සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, ඔබට අද ඉඳලා ඉතාමත් සොඳුරු දහම් පරියායක් ඉගෙන ගන්න ලැබෙනවා. මේ උතුම් දහම් දේශනා මාලාව අදින් ආරම්භ වන මේ දේශනා මාලාවට නාමයක් විදියට අපි ඒ දේශනා මාලාව හැඳින්නුවා 'අසිරිමත් සම්බුදු සරණ'. අසිරිමත් සම්බුදු සරණ කියන දහම් මාතෘකාවත් එක්ක මේ දහම් වැඩසටහන කරන්න අපිට ආශිර්වාද කරන්නේ අපගේ පරම පූජනීය ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ. ඔබ දන්නවා සතර අපායේ බියකරු බව ගැන අපි පසුගිය කාලයේ දහම් වැඩසටහනක් ආරම්භ කලා. ඒ වැඩසටහනත් එක්කම පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ අපිට අවවාද කලා තථාගත බුදුරජාණන් වහන්සේගේ සරණේ, ශ්‍රී සද්ධර්මයේ තියෙන සරණ, ආර්ය මහා සංඝරත්නයේ තියෙන සරණේ තියෙන වටිනාකම මේ පින්වතුන්ට මේ අතරතුර කියලා දෙන්න කියලා. ඇයි ඒ කුමන හේතුවක් නිසාද, ඊට ප්‍රථමව අපි මතක් කරන්නම් අද දවසේ මේ දහම් වැඩසටහන ආරම්භ කරන්න භාග්‍යය ලබනවා ඇමරිකාවේ පදිංචි පින්වත් චතුරංග රණසිංහ සහ කාවින්දි රණසිංහ දියණිය. මේ ඇත්තො නිතරම ධර්ම දාන දෙන පින්වතුන්. මේ පින්වතුන් තමයි අද පළමුවෙනි වැඩසටහනේ දායකත්වය දරමින් භාග්‍යය උදා කරගන්නේ ධර්ම දානයේ පින රැස් කරගැනීම පිණිස. එතකොට පින්වතුනි අපි බලමු පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ තිසරණය ගැන අපිට මේ පින්වතුන් නිතර දැනුවත් කරන්න කිව්වේ එක හේතුවක් ඇතුව. ඒ තමයි පින්වතුනි ගොඩාක් අයට නැත්තේම තිසරණය. ඔය ගොඩාක් ගැඹුරින් ධර්මය අවබෝධ කරන්න

ඕන කියලා හිතන, ගොඩාක් ගැඹුරින් ධර්මය අවබෝධ කරන්න ඕන ඒවම කියාපල්ලා කියලා ධර්මය දේශනා කරන අයට ගරහන ගොඩාක් අයට නැත්තේම තිසරණය. මේ ලෝකෙ අද කාලේ මේ මනුස්සයා හරියට තිසරණයට ආවොත් ඒක පින්වතුනි මාර්ගඵල ලැබුවා වගේ එච්චර දුර්ලභ දෙයක්. එච්චර මිනිස්සුන්ට තිසරණය නෑ. බුදුරජාණන් වහන්සේගේ සරණ සිහි කරන්නෑ. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ සරණ ගැන තේරෙන් නෑ. දැන් මට මතකයි ළඟදි ඔය ශ්‍රද්ධා රූපවාහිනියට කෙනෙක් මොකක්හරි අනිත්‍යය ගැන තිබ්බ එකක් ගැන පණිවිඩයක් එවලා, අනිත්‍යය ගැන මොකක්හරි කැඩෙන බිඳෙන දේවල් ගැන සාකච්ඡාවක් ගියාය, ඕවද අනිත්‍යය කියන්නෙ, ඔයිට වැඩිය ගැඹුරින් විස්තර කරන්න බැරිද කියලා. එතකොට බලන්න ධර්මය අල්ලන්න හදනවා සංඝයාට ගරහලා, දේශනාවට ගරහලා. එතකොට තමන්ට බාහිර කැඩෙන බිඳෙන දේවල් අනිත්‍යය ගණයට තමන්ට තේරෙන්නෙත් නැත්නම් තමන්ට මේ මොහොතේ ඇතිවී නැති වී යන දේ තමන්ට ගැඹුරින්ම තේරෙනවා නම් තවත් ලෝකෙට ගරහන්නේ කුමකටද. ඒ නිසා හෙඳට මතක තියාගන්න, ධර්මයට ගරහපු දේශකයාණන් වහන්සේලාට ගරහපු ඒ වගේම ගැඹුරු දේවල් ඕන ඕන කියලා හොය හොයා ගිහිල්ලා තිසරණයට හානිකරගත්තු බොහෝ දෙනාට ගෞතම බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ අහිමි වෙනවා. මම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේගෙන් වෙනම විමසලා තියෙනවා ස්වාමීනී, ලොකු ස්වාමීන් වහන්සේ ඉස්සර එක දිගට පංචුපාදානස්කන්ධ, ආයතන, පටිච්ච සමුප්පාද ගැන ගොඩාක් විස්තර කලා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේගෙන් අහලා තියෙනවා, ‘පින්වත් ලොකු ස්වාමීන් වහන්ස, මේ පංචුපාදානස්කන්ධ, පටිච්ච සමුප්පාද, ආයතන වගේ ඒ අවබෝධ කිරීම පිණිසම තියෙන ධර්මයෝ තියෙනවා. ඒ ධර්ම දේශනා වලට, ඒ ධර්ම දේශනාම නිතර නිතර මේ සැදැහැවතුන්ට අහන්න ලැබීම හෝ නොලැබීම පිළිබඳව, ඒ වගේම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මුලින්ම ධර්ම දේශනා ආරම්භ කලේ ගොඩාක් මේ ජීවිතේම මාර්ගඵල ලබන්න ඕන කියන අදහසින්මයි. ඇත්තටම මේ ආපු දහම් වැඩපිළිවෙල කොහොමද කියලා හොඳටම තේරෙන්නේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට. එතකොට මාව ධර්ම දේශනා සඳහා යොමු කරන්නේ, මාව ධර්ම දේශනා සඳහා මට මාතෘකා ලබලා දෙන්නේ ගුරු ස්වාමීන් වහන්සේ. ඒ නිසා මම තනියෙන් හිතලා ධර්ම දේශනා කරන්නෑ. එතකොට මට ධර්ම දේශනා මාතෘකාව දෙනවා. ආයුෂ්මතුන් මේ කාලෙ මේ මාතෘකාවට ධර්මය දේශනා කරන්න. ඒ අනුවයි මම ධර්මය දේශනා කරන්නෙ. ඉතින් මම ඇහුවා,

ඉතින් ලොකු ස්වාමීන් වහන්සේ ඇයි නිතරම තිසරණය ගැනම කියන විදියට අපිව යොමු කරන්නෙ, එතකොට පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ අපිට මතක් කලා, ආයුෂ්මතුනි ඒ මුලින්ම ධර්මය දේශනා කරගෙන යනකොට ඒ ධර්මය ගැඹුරුයි කියලා ගොඩාක් අය එකතු වුනා. ඇත්තටම ඒ ධර්මයට ආසාවෙන් තමයි අපිත් මහණ වුනේ. නමුත් මේ ධර්මය මේ ජීවිතයේදීම අවබෝධ කරන්න ඕන කියන අදහසින් මේ ධර්මය පුරුදු කරන්න යනකොට තේරෙනවා, ඒක පැහැදිලිවම තේරෙනවා නුවණින් සිහියෙන් ඉන්න කෙනෙකුට තේරෙනවා මේ ගමන් මාර්ගයට බාධා තියෙනවා. ඒ බාධා සියල්ල පැන නැගෙන්නේ ගුණධර්ම නැතිවීමත් එක්ක. තිසරණය නැතිවීමත් එක්ක. ඒක හොඳටම පැහැදිලියි. හැබැයි ඒ ටික පැහැදිලි වුනේ ගැඹුරින් ධර්මය දේශනා කරන්න ගත්තාට පස්සෙයි. එතකොට ඒ නිසා ධර්මය සොයාගෙන යන කෙනෙකුට ධර්මය ගැඹුරින් අවබෝධ කරගන්න කැමැති කෙනෙකුට ත්‍රිපිටකය විවෘතයි. ඒ වගේම අපි ගත්තොත් එහෙම ශ්‍රද්ධා රූපවාහිනියේ ධර්ම දේශනා ගත්තොත් එක එක ස්වාමීන් වහන්සේලා තමන්ට යෙදුනු යෙදුනු විදියට දහම් පරියායන් විස්තර කරනවා. ඒ නිසා හැම බණක්ම එක හාමුදුරු නමක්ම කියන්න ඕන කියලා එකක් නෑ, එතකොට ඒ තමන්ට පුරුදු කරන්න ඕන දහම් පරියාය තේරුම් අරන් ධර්මය ශ්‍රවණය කරන්නට ඕන. ඉතින් ඒ නිසා, ගොඩාක් අයට හානි වෙලා පවතින්නෙ. ගිහි අයටත් පැවිදි අයටත්, ධර්මය දන්නා අයටත් නොදන්නා අයටත්, ඉස්සර ඉඳලම ධර්මය හොයන අයටත් දැන් ඉඳලා ධර්මය හොයන අයටත් සියලුදෙනාටම හානිය පිණිස පවතින්නේම තිසරණය නැති බවමයි. සමහර අය ධර්මය අවබෝධ වුනාට පස්සෙ තිසරණය අවබෝධ වුනා කියලා හිතාගත්තට පස්සෙ තිසරණයට ගරහනවා. සිල් වලට ගරහනවා. ශාස්තෘන් වහන්සේ පැනවූ දේට ගරහනවා. තමන් පුරුදු කරන තමන්ගෙ චරිතය හරියි කියලා හුවා දක්වනවා. ධර්මය අවබෝධ වුනා කියලා තමන්ට හිතට හදාගත්තට පස්සෙ අන් අයට ගරහනවා. මේ වාගේ ගොඩාක් හානි මිනිස්සුන්ට සිද්ධ වෙනවා. ඉතින් ඒ මිනිස්සුන්ට ඒ තුළින් ඇතිවෙන හානිය සසරේ විපාක දෙන හැටි බියකරුය සසර දහම් වැඩසටහන් හොඳට ශ්‍රවණය කලා නම් ඔබට තේරෙනවා මේ පොඩි වචනය ඇති සසරට වැටිලා අප්‍රමාණ දුකක් ලබලා දෙන්න. පොඩි පාපය ඇති. ඉතින් ඒ නිසා පින්වතුනි මේක තේරුම් ගන්න ඕන, මේ ධර්ම දේශනා මාලාව තියෙන්නේම ආරම්භ කරන්නේම ගෞතම බුද්ධ ශාසනයේ ඇත්තටම පිහිටක් පිළිසරණක් ලබාගන්න කැමති කෙනා පිණිසමයි. මේ කොරෝනා වෛරසය ලෝකයේ පැතිරිලා මේ

මිනිස්සුන්ගේ ජීවිත පුදුම විදියට හානියට පත්වුනා. ගොඩාක් හානියට පත්වුනා. මිනිස්සුන්ගේ ජීවිත පුදුම විදියට නැතිවුනා. දහස් ගණන්, ලක්ෂ ගණන් නැතිවුනා. ඒ වගේම මනුෂ්‍යයාට කර්ම විපාක ලැබිච්ච විදිය හරිම පුදුම සහගතයි. මෙහෙමත් විපාක දීමනාවක්. මේ කොරෝනා වෛරසය අස්සෙ ඇක්සිඩන්ට් වෙලා මිනිස්සු මැරෙනවා. ඊටපස්සෙ කොහෙද පුත්තලම පැත්තෙද කොහෙද තාත්තා විසින්ම දරුවො දෙන්නා ළිඳට දාලා මරලා. ඒක අස්සෙ ගහගෙන මරාගන්නවා. හිරගෙවල් වල මැරෙනවා. වෙඩි තියාගෙන මැරෙනවා. ඇනකොටාගෙන මැරෙනවා. මෙහෙමත් මිනිස්සු මැරෙනවා. ඉතින් පින්වතුනි ඔබ අහලා තියෙනවා නේද මනුස්ස ජීවිතය දුර්ලභයි කියලා. කණ කැස්බෑවා විය සිදුරෙන් අහස බලනවා වගේ කියලා. කිච්චො මනුස්ස පටිලාභො. මිනිස් ජීවිතය අතිශයින් දුර්ලභයි පින්වත්නි. මේක බුදුරජාණන් වහන්සේගේ ධර්මය. කිච්චො මනුස්ස පටිලාභො - කිච්චං මච්චාන ජීවිතං, ඒ ඉපදිච්ච කෙනාගෙ ජීවිතය රැකගන්න එක ඊට වැඩිය අමාරුයි. හොඳට බලන්න මේ වෙන සිද්ධිත් එක්ක. කිච්චො මනුස්ස පටිලාභො - කිච්චං මච්චාන ජීවිතං, මේ ඉපදුන කෙනාගෙ ජීවිතය රැකගන්න එක දුර්ලභයි. මේ ලෙඩවලින් මැරෙනවා, ගහබැනගෙන මරාගන්නවා, ළිඳට දාලා මරාගන්නවා. වස විස කැවිලා මැරෙනවා. මැරෙන්න කොච්චර ක්‍රම තියෙනවාද. මේ ජීවිතේ රැකගන්න හැටි, පින්වතුනි බලන්නකො දැන් මේ බණ අහන අය අතර ඉන්නවනෙ වයසක අය. කී ගමනක් මරණය ආවද. සුද්දන්ගෙ කාලෙ, ඊළඟට ජූලි කලබල කාලෙ, හම්මේ ජේවීපී කලබල කාලෙ කොච්චර මිනිස් ජීවිත නැතිවුනාද. ඒ අසූ ගණන් වල කලබල කාලෙ හාමුදුරුවරුම හයදාහක් මැරිලා තියෙනවා. හාමුදුරුවරු හයදාහක් මරලා තියෙනවා. මයෙහිතේ තරුණ තරුණියො හැටදාහක් ලංකාවෙ. මේවා මරණ නෙවෙයිද. උපන් සත්ත්වයාගෙ ජීවිත කොච්චර ඉක්මණනින් විනාශ කරලා දැම්මද. උපන් සත්ත්වයාට ජීවත් වෙන එක ලේසි නෑ. කිච්චො මනුස්ස පටිලාභො - කිච්චං මච්චාන ජීවිතං, කිච්චං සද්ධම්ම සවණං ශ්‍රී සද්ධර්මය අහන එක ඊටත් වඩා දුර්ලභයි. කොහෝමහරි පණ නල ගැටගහගෙන ඉන්න ලෝකෙ කීදෙනෙක් සිටිනවාද. නමුත් කෝ ශ්‍රී සද්ධර්මය ඇහෙනවා. මේ පහුගිය කලබල කාලත් එක්ක ඇත්තටම මේ පින්වත් පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට කෝටි කෝටි වාරයක් වන්දනා වෙන්න ඕන, නමස්කාර වෙන්න ඕන, පින් අනුමෝදන් වෙන්න ඕන. හැමගෙදරක්ම භාවනා අසපුවක් කලා. හැම ගෙදරක්ම දම්සභා මණ්ඩපයක් කලා. හැම මොහොතෙම ධර්මය ඇහෙන්න

සැලැස්සුවා. ඒක පුදුම අප්‍රමාණ පිනක්. පින්වත් ගුරු දේවෝත්තමයන් වහන්සේ මේ කරපු සත්කාරය, ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලිය නිසා. එතකොට නිතරම ධර්මය ඇහෙනවා. එතකොට පින්වතුන් ඉන්නවා නොකඩවා ලස්සනට ධර්මය අහගෙන යනවා. කිච්චං සද්ධම්ම සවණං, පින්වතුනි මනුස්ස ජීවිතය දුර්ලභයි වගේම ඉපදිච්ච මනුස්සයාගෙ ජීවිතය රැකගන්න එක දුර්ලභයි වගේම ජීවිතය රැකගන්න එක අමාරු නිසානෙ මේ කටවල් වහගෙන, ඇඳිරි නීතිය දාලා, බෙහෙත් හේත් තියාගෙන, මෙච්චර නීති ගොඩාක් ඇයි මේ. ජීවිතය රැකගන්නනේ. ඊටපස්සෙ වාහනේකට නැංගත් පිරිත් කියාගෙන වැඳගෙන පුදාගෙන පේන පේන දේවාලයක් ගානෙ මිනිස්සු කාසි දාගෙන සුක්කානම වැහෙන්න නූල් ගැටගහගෙන, දෙහි එල්ලගෙන, මිරිස් කරල් එල්ලගෙන මොකටද මේ ඔක්කොම කරන්නෙ. ජීවිතය රැකගන්නනෙ. යන්තර එල්ලගෙන, නූල් ගැටගහගෙන මොකටද මේ. ජීවිතය රැකගන්න. ජීවිතය රැකගන්නවා කියන එක දුර්ලභයි. මනුස්ස ජීවිතෙත් දුර්ලභයි, මේ බුද්ධ වචන මං මේ කියන්නෙ. ධම්මපදයේ බුද්ධ වර්ගයේ තියෙන්නෙ. ජීවිතය රැකගන්න එකත් දුර්ලභයි, ඊළඟට මනුෂ්‍යයෙක් වෙලා ඉපදෙන එකත් දුර්ලභයි, ජීවිතය රැකගන්න එකත් දුර්ලභයි. බණ ඇහෙනවා කියන එක දුර්ලභයි. සමහර අය මාත් එක්ක ඇවිල්ලා කියනවා අනේ හාමුදුරුවනේ හැමදාම බණ බණ බණ කොතෙක් අහන්නද කියලා. මෙන්න බුද්ධ වචනය. කිච්චො මනුස්ස පටිලාභො - කිච්චං මච්චාන ජීවිතං, කිච්චං සද්ධම්ම සවණං, දුර්ලභයිනෙ. දුර්ලභ ලාභයක්. නිධානයක් කඩාපාත් වෙලා. හැමදාම නෑ. දුර්ලභ නිධානයක් කඩාපාත් වුනේ. නිතර බණ ඇහෙන එක. කලින් තිබ්බද මේ වගේ බණ ඇහිල්ලක්. මීට අවුරුදු විසිපහකට තිහකට කලින් පැරණි වැඩිහිටි අය ඉන්නවා නම් මේ කොල්ලො කුරුට්ටන්ට කියලා දෙන්න. ඉරිදා උදේ බණ ටිකයි, බදාදා බණ ටිකයි විතරයි නේද බණ. හැම දානෙ ගෙදරකම, හැම බණ ගෙදරකම කවි බණ ටිකක් නේද. අපිට මහා උජාරුවෙන් පින් කරගන්න තිබුනෙ බෝධි පූජා ටික නේද. තොරණ නේද. මෙහෙම බණක් ඇහුවද. සූත්‍ර වලින් බණ ඇහුවද. රෑ එළිවෙනකල් බණ ඇහුවද. මේ වගේ එක දිගට නොකඩවා දහම් වැඩසටහන් තිබ්බද. මේ ලැබිච්ච නිධානයට පයින් ගහන්න එපා. කිච්චං සද්ධම්ම සවණං, ශ්‍රී සද්ධර්ම ශ්‍රවණය දුර්ලභයි. අතිශයින් දුර්ලභයි. යම්කිසි කෙනෙක් මේ ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරනවානම් ඔහු දුර්ලභ නිධානයක අයිතිකාරයෙක්. දුර්ලභ නිධානයක් ඔහුට ලැබිච්ච කෙනෙක්. දුර්ලභ වස්තුවක් ඔහුට ලැබිච්චි කෙනෙක්. ඒ නිසා ඒ ගැන හිතලා සතුටු

වෙන්න ඕන. ඊළඟට තියෙනවා කිච්චං බුද්ධානං උත්පාදෝ, බුදුරජාණන් වහන්සේලාගේ උපත අතිශයින් දුර්ලභයි. දැන් බලන්න, මනුස්ස ජීවිතය දුර්ලභයි. උපන් සත්ත්වයාගේ ජීවිතය රැක ගන්න එක දුර්ලභයි මනුස්ස ජීවිතේ. බණ පදයක් ඇහෙන එක දුර්ලභයි. ඊළඟට බුදුරජාණන් වහන්සේ නමක් පහළ වීම අතිශයින් දුර්ලභයි. මතක තියාගන්න පින්වතුනි, දීපංකර පාද මූලයේ අර්හත්වයට පත්වෙන්න පින් තිබූ උත්තමයෙක් සුමේධ තාපසතුමා. අර්හත්වයට පත්වෙන්න පින් තිබුනු සුමේධ තාපසතුමා දීපංකර තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී පා සෙවණේ මඩේ වැතිරී දණ්ඩ නමස්කාරයෙන් සිටිද්දී අනාගතේ ගෞතම නමින් ලොව්තුරා සම්බුදු වෙන බවට විවරණ ගත්තෙ අර්හත්වයට පත්වෙන්න පින තිබෙද්දි. එතකොට අසංඛෙය්‍ය කල්ප ලක්ෂ හතරකුත් තව කල්ප ලක්ෂයක් පින් පිරුවේ, ලොව්තුරා සම්මා සම්බුදු බවට. මොකද දීපංකර තථාගතයන් වහන්සේගේ පාමුලම අර්හත්වයට පත්වෙන්න පින් තිබිච්ච කෙනෙක්. එහෙනම් අසංඛෙය්‍ය හතරකුත් තව කල්ප ලක්ෂයක් පින් පිරුවේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් වෙන්න. එහෙනම් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකගෙයි, රහතන් වහන්සේ නමකගෙයි වෙනස බලන්න. කොච්චර වෙනසක්ද කියලා බලන්න. බුදුරජාණන් වහන්සේලා පහළවීම අතිශයින් දුර්ලභයි. දීපංකර බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළවෙලා ඊළඟට බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙන්න කල්ප අසංඛෙය්‍යක් ගියා. ගණන් කරන්න බැරි තරම් කල්ප. කල්පයක් කියලා කියන එක සාමාන්‍ය දෙයක් කියලා හිතන්න එපා. මම ඔබට වෙන උදාහණයක් කියන්නම් මිලින්දප්‍රශ්නෙන්. පින්වතුනි මිලින්ද රජතුමා නාගසේන මහරහතන් වහන්සේගෙන් දේවදත්ත ගැන ප්‍රශ්නය විචාරපු තැන, නාගසේන මහරහතන් වහන්සේ දේශනා කරනවා මහරජතුමනි, දේවදත්ත ආනන්තරීය පාපකර්මය කලේ මේ කල්පය කොටස් හයකට බෙදුවොත් - මේ මහා භද්‍ර කල්පය කොටස් හයකට බෙදුවොත් - පළවෙනි කොටස ඉක්මවා ගිය තැන, පළවෙනි කොටස විතරයි ඉක්මවා ගිහිල්ලා තියෙන්නෙ මේ කල්පය කොටස් හයකට බෙදුවොත්, එතන තමයි ආනන්තරීය පාපකර්මය කලේ. තව කොටස් පහක් තියෙනවා මේ කල්පයේ. ඒ කොටස් පහම දේවදත්ත තථාගතයන් වහන්සේගේ ශ්‍රී ශරීරයෙන් ලේ සොලවපු පාපකර්මය විඳවනවා කියනවා. එතකොට පොඩ්ඩක් කල්පනා කරන්න කකුසඳ, කෝණාගමන, කාශ්‍යප, ගෞතම කියන සතර බුදුරජාණන් වහන්සේලාම මේ ලෝකෙට පහළ වුනේ, මේ කල්පය කොටස් හයකට

බෙදුවොත් පළවෙනි කොටසේ. තව කොටස් පහක් තියෙනවා. කල්පය කියන එක කොච්චර දීර්ඝයිද. මෛත්‍රී තථාගත අර්හත් සම්මා සම්බුදු රජාණන් වහන්සේ මේ ලෝකෙ පහළ වෙනතාක් කොච්චර අවුරුදු තියෙනවාද කියලා අපි දන්නෑ. මෛත්‍රී බුදුරජාණන් වහන්සේ ලෝකෙ පහළ වුනාට පස්සෙ කොච්චර අවුරුදු අසංඛෙය්‍ය ගාණක් බුදුවරු නෑ. එතකොට අවුරුදු අසංඛෙය්‍ය ගාණක් දන් හැන්දක් බෙදන්න නෑ. කොච්චර දුර්ලභයි ද. පින්වතුනි මේ දුර්ලභ බව තේරුම් ගන්න. විපස්සී බුදුරජාණන් වහන්සේගේ කාලෙ මිනිස්සුන්ගෙ ආයුෂ අවුරුදු අසූදාහයි. ඒ අසූදාහක් අවුරුදු මිනිස්සු බුදුගුණ කිව්වා. අසූදාහක් මිනිස්සු බණ ඇහුවා අවුරුදු. අසූ දාහක් සාංඝික දාන දුන්නා ඒ බුද්ධ ශාසනේ. අපි අද අවුරුදු කීයද. ඔයාලට තව දානෙ දෙන්න කොච්චර අවුරුදු ද තියෙන්නෙ. බණ අහන්න අවුරුදු කීයද තියෙන්නෙ. මේ බුදුරජාණන් වහන්සේගෙ ගුණ කඳ අහන්න කොච්චර අවුරුදු ද තියෙන්නෙ. පින්වතුනි සිඛී බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහල වුනාට පස්සෙ ඒක පහළ වුනේ මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු හැත්තෑදාහක් කාලෙ. එතකොට මිනිස්සු බුදු ගුණ කිව්වා, බුදුරජාණන් වහන්සේට වන්දනා කලා අවුරුදු හැත්තෑදාහක්. ධර්මය ඇහුවා අවුරුදු හැත්තෑදාහක්. සංඝයා වැඩපුදාගෙන සාංඝික දාන මිනිස්සු දුන්නා අවුරුදු හැත්තෑදාහක්. දැන් ඔබට කොච්චර කාලයක්ද තියෙන්නෙ. තව අවුරුදු දහයයි පහළොවයිනෙ. ඊට කලින් මොකක්හරි වුනොත්. එතකොට අපි ප්ලෑන් කරගෙන ඉන්නවා හරි අවුරුදු හැත්තෑවයි, අසූවයි කියලා. මනුස්සයාගෙ, උපන් මනුස්සයාගෙ ජීවිතේ රැකගන්න එක දුර්ලභයි නේද. කිච්ඡෝ මනුස්ස පටිලාභො, මිනිස්සු වෙන එක දුර්ලභයි. කිච්ඡං මච්චාන ජීවිතං, මිනිස්සුන්ගේ ජීවිතේ දුර්ලභයි. ජීවිතේ රැකගන්න එක අමාරුයි. කිච්ඡං සද්ධම්ම සවණං, ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරන එක දුර්ලභයි. කිච්ඡං බුද්ධානං උප්පාදෝ, බුදුරජාණන් වහන්සේලා පහළවීම දුර්ලභයි. එතකොට බලන්න මේ බුද්ධ ශාසනය, මේ මහා භද්‍ර කල්පය ගත්තොත් කකුසඳ බුදුරජාණන් වහන්සේගෙ කාලෙ පින්වතුනි මිනිස්සු අවුරුදු හතළිස්දාහක් බණ අහලා තියෙනවා. අවුරුදු හතළිස්දාහක් බුදු ගුණ කියලා තියෙනවා. අවුරුදු හතළිස්දාහක් සාංඝික දාන දීලා තියෙනවා. අද අපිට කොච්චර කාලයක්ද. ඊළඟට කෝණාගමන බුදුරජාණන් වහන්සේගේ කාලයේ අවුරුදු තිස්දාහක්. කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ කාලෙ අවුරුදු විසිදාහක්. අපේ බුදුරජාණන් වහන්සේගේ කාලයේ මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු සීයයි. දැන් අපිට ආයුෂ අවුරුදු හැටක් හැත්තෑවක් තියෙන්නෙ. ඉතින් මේ ටික කාලයේ නේද අපිට බුදු ගුණයක් අහන්න

තියෙන්නෙ. බණ පදයක් අහන්න තියෙන්නෙ. මේ ටික කාලෙ නේද ධර්මය අවබෝධ කරගන්න එකට යම් වෙහෙසක් දරන්න තියෙන්නෙ. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේලා පහළ වීම අතිශයින් දුර්ලභයි. ඉතින් අප්‍රමාණ ඇස් ඉස් මස් ලේ දන් දිදී, අනේක දන්දීම්, දැන් මේ ධර්ම දේශනා මාලාව අහනකොට ඔබට අපේ බුදුරජාණන් වහන්සේ අතීතයේ හිතාගන්න බෑ පින්වත්නි, මෙහෙමත් පාරමී ධර්මයන් පිරීම. මෛත්‍රී පාරමිතාව පුරපු විදිය හිතාගන්න බෑ. පින්වතුනි එදා ඒ ධර්මපාල කුමාරයා වෙලා ඉඳිද්දි තමන්ගේ පියා ඒ කුමාරයා වඩාගෙන ඒ මෑණියෝ පියා එනකොට නැගිට්ටෙ නෑ කියලා, ඒ කලාභූ රජ්ජුරුවො මේ පුතාව මරන්න කිව්වා. අම්මගෙ තුරුලෙ හිටපු දරුවා, මාස පහක දරුවෙක්. ඒ දරුවා ඇදගෙන එනකොට එකපාරටම දරුවට හිතෙනවා පියාණන් මා හට කිපී ඇත. මාගේ මෑණියන් වැළපෙනවා. මා තරහා ගන්නෑ කියලා හිතුවා කියනවා. චූටි දරු සිඟිත්තෙක්. මිරිකලා අරගෙන යනකොට වධකයා ඒ පෝරිසාදයා ඒ චූටි දරු සිඟිත්තා මිරිකලා අරගෙන යනකොට තරහ හිතක් ඇතිවෙලා නෑ. පොඩ්ඩක්වත් අඬලා නෑ දරුවා. අපේ මහා බෝධි සත්ත්වයෝ. ඊටපස්සෙ ගිහිල්ලා මේ වාගේ ඉස්සරහ තැනක තියලා අර මෑණියන් වැළපිලා ඇයි මේ කියලා. තෝ නැගිට්ටේ නෑ මං එනකොට මේකා නිසා. මේකව තියන්නෑ. මොහු නොකළ වරදට දඬුවම් දෙන්න එපා, මට දෙන දඬුවමක් මට දෙන්න කියලා මෑණියන් වැළපෙද්දි, නෑ නෑ නෑ තෝ මේකගේ අතපය නේද ස්පර්ශ කර කර අල්ල අල්ලා හුරතල් කළේ. වධකයාට කිව්වා, කපපං දැන්. ඒ මොහොතේම මාස පහේ දරුවා හිතනවා මාගේ පියා උරණ වී ඇත. මාගේ මෑණියෝ මා වෙනුවෙන් වැළපෙනවා. මං ඒ මා වෙනුවෙන් වැළපෙන මෑණියන්ටත් මා වෙනුවෙන් උරණ වූ පියාණන්ටත් මාගේ හිතේ එකම මෛත්‍රිය වේවා. මේවා කොහොමද පින්වතුනි අපි දරාගන්නෙ. චර චර ගාලා කැපුවා අත් දෙකයි කකුල් දෙකයි මාස පහේ දරුවෙක්ගෙ දරු සිඟිත්තා. අපිට අහන්නවත් පුලුවන්ද මේවා. කැපුවා. ඒ අතපය කපනකොට මා වෙනුවෙන් හඬන මෑණියන්ටත්, මා වෙනුවෙන් උරණ වූ පියාණන්ටත් දෙදෙනාටම සම මෛත්‍රිය. ඇඬිල්ලක්වත් නෑ. ඇහෙන් කඳුලක්වත් වැටෙන්නෑ පින්වත්නි. මහා බෝධි සත්ත්වයෝ සංසාරයේ කරපු පාරමී ධර්ම. ඊටපස්සෙ කිසිම රහතන් වහන්සේ නමක් මේ ලෝකේ පහළ වූ, කිසිම පසේ බුදුරජාණන් වහන්සේ නමක් ලෝකයේ පහළ වූ, මෙතරම් ගුණ සමුදායක් පුරලා නෑ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් තරම්. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ දැන් මේ පුංචි දරුවෙක් වෙලා ඊටපස්සෙ මෑණියො අතපය අරගෙන

ඒ දරු සිඟිත්තාගේ අත පය කපලා වීසි කලා. අර අම්මා වියරුවෙන් කොණ්ඩෙ කඩාගෙන දරුවාගේ අත් දෙකයි කකුල් දෙකයි බදාගෙන මට මේ කොටය ඇති දරුවා විදියට. මට මේ අතපය නැති දරුවා දැන් මට ඕන කිව්වා. ඇය මහාප්‍රජාපතිය. සසරේ දරුවන් වෙනුවෙන් අඬපු විදිය. සිද්ධාර්ථ කුමාරයා වෙනුවෙන් අඬපු ඇඬිල්ල මේ කියන්නෙ. අත් පා බදාගෙන අඬද්දි වැළපෙද්දි තමන් වෙනුවෙන්, තමන්ගේ සිඳුනු අතපය බදාගෙන අඬන මෑණියන්ටත් උරණ වූ පියාණන්ටත් කඩුව ඔසවාගත්තු පෝරිසාදයාටත් එකම මෛත්‍රිය, එකම මෛත්‍රිය. මගේ බුදුරජාණන් වහන්සේ සසරෙ. බුදු කෙනෙක් ගැන කවර කතාද, මහා බෝධි සත්ත්වයෝ එසේය පින්වත්නි. ඊටපස්සෙ කිව්වා මේ ධර්මපාලයාගේ බෙල්ල කපාපං. බෙල්ල කැපුවා. එතකොටත් ඒ මෛත්‍රිය. පපුව පලලා හදවත අරන් ඒ හදවත කඩුවෙ අග දවටලා, අසිමාලකය කියලා බන්ධනයක් කරලා. මේ විදියට හදවත කඩුවෙ අග තියාගෙන කරකවනවා. එහෙමත් වද දුන්නා. ඒ හැම මොහොතකම මොහොතක්වත් ඒ මාස පහක දරුවාට තරහක් හිතිලා නෑ. එච්චර මෛත්‍රිය. ඔය එක පාරමිතාවක්. ඔය විදියට මෛත්‍රිය වඩලා තියෙනවා අසංඛෙය්‍ය අප්‍රමාණ අසංඛෙය්‍ය වාරයක්. ඔය විදියට අතපය කපද්දීම හඬන්නේ නැතිව, වැළපෙන්නේ නැතිව, තරහ ගන්නේ නැතිව, මෛත්‍රියෙන් ඉඳලා තියෙනවා. ඒ මෑණි, ඒ ධර්මපාල කුමරුන්ගේ මෑණි හදවත පුපුරා මියගියා. තමන් වෙනුවෙන් අඬපු අම්මලා අසංඛෙය්‍ය ගාණක් දරු දුකට හදවත පුපුරා මැරෙද්දි ඒ මෑණිවරුන් කෙරෙහි යම් සෙනෙහසක් තිබ්බාද වධකයන් කෙරෙහිත් ඒ මෛත්‍රියම පැතිරුවා මහාබෝධිසත්ත්වයෝ. ඒ වාගේ අසංඛෙය්‍ය වාරයක් ඒ විදියට ඒ විදියට කරලා. ඇස් දන් දුන්නෙ එක පාරක් නෙවෙයි අසංඛෙය්‍ය වාරයක්. දරුවන් දන්දුන්නේ එක වාරයක් නෙවෙයි, අසංඛෙය්‍ය වාරයක්. ඒ විදියට පින් පුරාගෙන පුරාගෙන පුරාගෙන මනුස්ස ලෝකෙට ආවාට පස්සෙ ඒ මහා පින් පුංජය, ඒ මහා පිනකින් උපන් උත්තමයා අහෝ දකින්න ලැබුනා ඒක පුදුම සහගත දෙයක්. බුදුරජාණන් වහන්සේලා ලෝකෙට පහළ වීම අතිශයින් දුර්ලභයි. එතකොට පින්වතුනි ඒ බුදුරජාණන් වහන්සේ පහළ වෙන්න කලින් මේ ලෝකෙ අමුතු දෙයක් සිද්ධ වෙනවා. ඒ තමයි පින්වතුනි මේ ලෝකෙ මිනිස්සු අතර කතාවක් ඇතිවෙනවා අනාගතේ බුදුවරු පහළ වෙනවා කියලා. එතකොට ඔන්න ඍෂිවරු දෙවියන් අතරෙ වෙනම කසුකුසුවක් යනවා බුදු කෙනෙක් අනාගතේ පහළ වෙනවා කියලා. එතකොට කවුද මේ බුදු කෙනා කියන්නෙ. එතකොට කලින් බුද්ධ ශාසන වල මාර්ගඵල ලබලා දිව්‍ය ලෝකෙ ඉන්න දෙවිවරු අර ඍෂිවරුන්ට කියලා දෙනවා

බුදුරජාණන් වහන්සේලාගේ ස්වරූපය මේකයි. ඒ ඍෂිවරු ඒවා වස්ත්‍රවල, තල් පත්‍ර වල, නැත්නම් ඔය මොනවහරි ලේඛනගත කරගන්න දේවල්වල ලියාගන්නවා ඍෂිවරු. ඒ විදියට තමයි දෙතිස් මහා පුරුෂ ලක්ෂණ විද්‍යාව බ්‍රාහ්මණයන් අතට පත්වුනේ. ලෝකයේ පැතිරිලා යනවා. බුද්ධ කෝලහාලයක් පැතිරිලා යනවා. දිව්‍ය ලෝක බ්‍රහ්ම ලෝක අතර කෝලහාලයක් පැතිරිලා යනවා බුදු කෙනෙක් පහළ වෙන්න ළඟයි කියලා. බුදුරජාණන් වහන්සේලා පහළ වීම දුර්ලභ නිසානෙ පින්වත්නි මෙහෙම වෙන්නෙ. ඊටපස්සෙ මොකද කරන්නේ බුදුරජාණන් වහන්සේ නමක් ඉස්සෙල්ලාම පහළ වෙන්නෙ නෑ. ඊළඟට පහළ වෙන්නෙ පින්වතුනි, බුදු කෙනෙකුට කලින් ලෝකයේ පහළ වෙනවා පසේ බුදුරජාණන් වහන්සේලා. වර්ෂා පොදක් නැති, වතුරක් කියන එකක සංඥාවක් නැති, මහා කාන්තාරෙකට පිනි පොදක් වැටිලා යනවා වගේ, පසේ බුදුරජාණන් වහන්සේලා පහළ වෙනවා. එතකොට අර ශ්‍රමණයන්ට වෙන්න ඕන ගරු සත්කාර සම්මාන, ශ්‍රමණයන් හඳුනාගන්න ස්වභාවය ලෝකෙට ඉස්සෙල්ලාම වැටහෙනවා බුදු කෙනෙක් පහළ වෙන්න කලින්. බුදුරජාණන් වහන්සේට අගෞරවයක් නොවීම පිණිස. බුදු කෙනෙක් ලෝකෙට පහළ වීමට පූර්ව නිමිති විදියට පසේ බුදුරජාණන් වහන්සේලා පහළ වෙනවා. පසේ බුදුරජාණන් වහන්සේලා පහළ වෙනවා නම් අනිවාර්යයෙන්ම තව අවුරුදු දහස් ගාණකින් බුදු කෙනෙක් ලෝකෙ පහළ වෙනවා. ඊටපස්සෙ ඒ විදියට පින්වතුනි සිද්ධ වෙලා ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ අනේක ප්‍රාතිහාර්යයෙන් යුක්තව පහළ වුනා. ඒ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ යන්න ලැබුනා. දසබිම්බරක් මාර සේනා පරාජයට පත් කරගත්ත බුදුරජාණන් වහන්සේ සරණ යන්න ලැබුනොත් අවංකවම මේක කට වචනයට නෙවෙයි, ඇත්තටම සරණ යන්න ලැබුණොත් එහෙම මෙයම තමයි නිවන් මාර්ගයේ ආරම්භය ශ්‍රද්ධාවමයි. බුදුරජාණන් වහන්සේ සරණ යන එකමයි. ශ්‍රී සද්ධර්මය සරණ යන එකමයි, ආර්ය මහා සංඝරත්නය සරණ යන එකමයි. තෙරුවන් සරණ යන්නැතිව නිර්වාණය අවබෝධ කරන්න බෑ කියන එක බුද්ධ වචනයේම තියෙන එකක්. ඒක අපි කියන එකක් නෙවෙයි. එහෙනම් මෙච්චර තෙරුවන් සරණ ගැන කිය කියා බුදුරජාණන් වහන්සේ සරණ යන්න කිය කියා පින්වතුනි මේ ඔබව යොමු කරන්නේ නිර්වාණ ප්‍රතිපදාවටමයි. ඒක මම කිව්වොත් විශ්වාස කරන්නැත්නම්, පින්වත්නි මම ඔබට ධම්මපදයේ තියෙන ගාථාවක් කියලා දෙන්නම්. දැන් ඉස්සෙල්ලා කිව්ව ගාථාවත් ධම්මපදයේම තිබුන එකක් පත්තක නාගරාජයාට බුදුරජාණන් වහන්සේ වදාළ

ගාථාව. කිච්චෝ මනුස්ස පටිලාභො කිච්චං මච්ඡාන ජීවිතං කිච්චං සද්ධම්ම සවනං කිච්චං බුද්ධානං උප්පාදෝ. පින්වතුනි, අග්ගිදත්ත බ්‍රාහ්මණයා කියලා කොසොල් මහා රජ්ජුරුවන්ට උපස්ථාන කරපු බ්‍රාහ්මණයෙක් හිටියා. ඒ බ්‍රාහ්මණයා පස්සෙ කාලෙ තාපසයෙක් වුනා. තාපසයෙක් වෙලා තමන්ගේ දහදාහක් විතර තවත් පිරිස තමන්ට එකතු වුනා. මේ පිරිසත් සමඟ වාසය කරද්දි තමන්ගේ ගෝලයන්ට කිව්වා නුඹලාට රාග සිතක් ඇතිවුනොත්, ද්වේෂ සිතක් ඇතිවුනොත් එහෙම මේ ගංගාවෙන් වැලි ගෙනල්ලා මෙතනට වැලි ගොටුවක් දාපල්ලා. ඒක තමයි එයාගෙ බණ. ඉතින් එහෙම දාලා සම්පූර්ණ වැලි ගොඩක් බවට පත්වුනා. ඒ වැලි ගොඩට අරක් ගත්තා පින්වත්නි, නාගයෙක්. නිකං දාපු වැලි ගොඩටත් නයෙක් අරක්ගත්තා නම් නිකං රතුපාට රෙදි ටිකක් එල්ලාගෙන, මිණිගෙඩි එල්ලාගෙන, පහන් තියාගෙන කන්නලව් කරනකොට අනිවාර්යයෙන් ඔතෙන්ට නම් කෙනෙක් අරක්ගන්නවාමයි. වැලි ගොඩටත් අරක්ගත්තා. ඊටපස්සෙ අර වැලි ගොඩට අරක්ගෙන ඉන්න ඒ මහා ඍද්ධිසම්පන්න නාගයෙක්, ගඟේ හිටපු නාගයා අර වැලි ගොඩට අරක්ගත්තා. දැන් ඒකෙ තමයි ඉන්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේ දැක්කා මේ අග්ගිදත්ත බ්‍රාහ්මණයා මිනිස්සු එනවා දැන්, ගොඩාක් දන් දෙනවා. මිනිස්සුන්ට බණ කියන්නෙ මෙහෙම. උඹලට කරදරයක් ඇති වුනාට පස්සෙ අහවල් පර්වතය සිහි කරපල්ලා. උඹලට කරදරයක් ඇති වුනාට පස්සෙ අන්න අර අහවල් ගහ ගාවට පලයල්ලා. උඹලට කරදරයක් ඇති වුනාට පස්සෙ මේ විදියට භූමිය සරණ පලයල්ලා. ආරාම, වන, පර්වත සරණ යන්න තමයි ඉගැන්නුවෙ, වෙන දෙයක් නෑ. භාග්‍යවතුන් වහන්සේ දැක්කා මේකෙන් කීදෙනෙකුට නම් අයහපතක් සිද්ධ වෙනවද. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ මොග්ගල්ලාන මරහරහතන් වහන්සේට වදාළා, අග්ගිදත්ත බ්‍රාහ්මණයා බොහෝ දෙනාට වැරදි තොටුපලට දානවා. මිනිස්සු සසරටම ඇදලා දානවා. ඒ නිසා මොග්ගල්ලාන ඔබ ගිහිල්ලා ඒ පිරිසව සංවේගයට පත්කරවන්න. ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේත් වඩිනවානම් මට වඩින්න පුලුවන්. මොග්ගල්ලාන කලින් වඩින්න, මං පස්සෙ වඩින්නම්. ඉතින් මුගලන් මහරහතන් වහන්සේ ඒ ආරාමෙට යනකොට, අර පිරිස ගොඩාක් ඉන්න නිසා කච කචේනෙ. උන්වහන්සේ ඍද්ධියක් කලා වැහිපොදක් වැටෙන්න. එතකොට ඔක්කොම පන්සල්වලට ගියා. ඊටපස්සෙ මුගලන් මහරහතන් වහන්සේ අග්ගිදත්ත බ්‍රාහ්මණයා ළඟට ගිහින් ඉන්න තැනක් ඇහුවා. ඊටපස්සෙ මෙහෙ නෑ කිව්වා. එහෙම කියන්න එපා, මනුස්සයෙක් මනුස්සයෙක් ළඟට යනවා, හරක් වුනත්

හරක් ඉන්න තැනකට යන්නෙ. මිනිස්සු මිනිස්සු ඉන්න තැන්වලට යනවා, කුරුල්ලො කුරුල්ලො ඉන්න තැන්වලට යනවා. අපි පැවිද්දො, පැවිද්දෙක් ඉන්න තැනට මේ ආවෙ. කොහෙහරි ඉන්න තැනක් දෙන්න කිව්වා. මෙහෙ තැන් නෑ කිව්වා. එහෙනම් අර වැලි ගොඩේ හරි ඉන්නම් කිව්වා. අම්මෝ එතෙන්ට යන්න එපා එතන මහා නාගයෙක් ඉන්නවා. කිව්වා මං ඒක ගැන බලාගන්නම්. මට එතෙන්ට යන්න අවසර දෙන්න. ගියාට කමක් නෑ, ඔහේගේ ජීවිතේ ගැන අපි වගකියන්නෑ. මුගලන් මහරහතන් වහන්සේ වැඩියා. ඒ නාගයා තමන්ගේ ශරීරයෙන් ගිනි පිටකරමින්, දුම් පිටකරමින් මුගලන් මහරහතන් වහන්සේට හිංසා කරන්න පටන් ගත්තා. අවසානයේ මුගලන් වහන්සේගේ ඍද්ධිය ඉදිරියේ උන්වහන්සේ ළඟ දණ ගහලා ඒ නාගයා - දණ ගහලා කියන්නේ දමනය වෙලා - ඊටපස්සෙ මුගලන් මහරහතන් වහන්සේට රැය සීතල නොවීම පිණිස දරණය වෙලාගෙන පෙණ ගොබය තියාගෙන කුටියක් සකස් කලා ශරීරයෙන්. මුගලන් මහරහතන් වහන්සේ සරණ ගිහිල්ලා. ඊටපස්සෙ උදේ යනකොට බ්‍රාහ්මණයො නාග දරණය මැද මුගලන් මහරහතන් වහන්සේ වැඩ ඉන්නවා. එහෙම්මම බමුණො ඔක්කොම ටික දණ ගැහුවා. එතකොටම බුදුරජාණන් වහන්සේ වැඩියා. බුදුරජාණන් වහන්සේ වඩිනකොටම නාග දරණයෙන් උඩට ඇවිල්ලා මුගලන් මහරහතන් වහන්සේ බුදුරජාණන් වහන්සේට දණගැහුවා. අග්ගිදත්ත බ්‍රාහ්මණයා අහනවා මේ ඔබවහන්සේටත් වැඩිය උත්තමයෙක්ද. මගේ ශාස්තෘන් වහන්සේ කිව්වා. ඔන්න ඔක්කෝම ටික දැන් බුදුරජාණන් වහන්සේට වැන්දා. බුදුරජාණන් වහන්සේ අහනවා අග්ගිදත්ත කොහොමද බණ කියන්නෙ. ඊටපස්සෙ කිව්වා මම කියන්නෙ දුකෙන් මිදෙන්න නම් පර්වත, වනාන්තර, ආරාම, වෘක්ෂ ඒවා සිහි කර කර සරණ යන්න. කරදරයක් වුනොත් ඉක්මණට ඒ ගස්වල සරණ යන්න. දැන් මේක වරද්ද ගන්න එපා බෝධීන් වහන්සේලා කියලා. බෝධීන් වහන්සේලාට අපි සත්කාර සම්මාන කරන්නෙ උතුම් සම්බුද්ධත්වයට සෙවණ සලසාලූ නිසාත්, උතුම් බුද්ධානුභාවයෙන් දවස් හතක් බුදුරජාණන් වහන්සේ අනිමිස ලෝචන පූජාවෙන් පිදුම් ලැබූ බෝධියක් නිසාත්, බොහෝ පින් රැස් වෙන නිසාත්, බුදුරජාණන් වහන්සේ අනුදැන වදාළ නිසාත්. මේ කියන්නෙ එහෙම නෙවෙයි, ඒ කාලෙ වනස්පති ගස් තියෙනවා. ඒ ගස්වලට වැඳ වැඳ හිටපල්ලා, දුකෙන් නිදහස් වෙන්න ඉල්ලා හිටපල්ලා කියලා කිව්වා. ඊටපස්සෙ පින්වතුනි බුදුරජාණන් වහන්සේ වදාළා අග්ගිදත්ත, ඔහොම නම් නිවන් දකින්න බෑ කිව්වා. මෙන්න මේ ගාථා ටික මතක තියාගන්න. බහුං වේ සරණං යන්ති පබ්බතානි වනානිච ආරාම රුක්ඛ

චේතයානි මනුස්සා භය තජ්ජිතා, බිය වෙච්චි මිනිස්සු ආරාම වන පර්වත මනුස්සයෝ මිනිස්සු මේ මොකාක්හරි සරණ යනවා. දැන් බලන්න කරදරයක් මිනිස්සුන්ට එනවා කියනකොට කොරෝනා එනවා වතුරෙ බැහැලා නැගිටපියව් කියනකොට වතුරෙ බහිනවා. දැක්කද සරණ. ඊටපස්සෙ මෙන්න මේ බීම බීපල්ලා කියලා දැන් ඔය සමහර අරාබි රටවල එකතැන පන්සීය හයසීය මැරුණෙ ඔය එක එක දේවල් බීලා. මොකක්හරි සරණ යනවා. එතකොට මරණයෙන් ගැලවෙන්න මොකක්ද තියෙන්නෙ සරණ යනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා නේතං කෝ සරණං කේමං නේතං සරණ මුත්තමං, ඔය සරණේ නම් බය නැතිවෙනවා කියලා එකක් නෑ. එහෙම බය නැතිවෙන්නෑ කිව්වා. ඊටපස්සෙ එහෙම උතුම් සරණක් ගියා වෙන්නෑ කිව්වා. නේතං සරණ මාගම්ම සබ්බ දුක්ඛා පමුච්ඡති, ඔය සරණට ඇවිල්ලා නම් සියලු දුක් වලින් නිදහස් වෙන්න බෑ කිව්වා. යෝච බුද්ධං ච ධම්මං ච සංඝං ච සරණං ගතෝ චත්තාය අරියසච්චානි සම්ම පඤ්ඤාය පස්සති, යම්කිසි කෙනෙක් බුදුරජාණන් වහන්සේ සරණ ගියොත්, ධර්මය සරණ ගියොත්, ආර්ය මහා සංඝරත්නය සරණ ගියොත් උතුම් වූ චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්නේ එයා කියලා වදාළා. එහෙනම් තෙරුවන් සරණ ගිය කෙනාට තමයි චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කිරීමේ වාසනාව උදාවෙන්නෙ. එහෙනම් මෙච්චර කියන්නෙ, මෙච්චර තිසරණය ගැනම ඔබට කියලාදෙන්නේ පින්වතුනි චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගැනීමේ මූලික වාසනාව උපැද්දවීමට. වාසනා ගුණය උපැද්දවීමට. මේ ලෝකෙ කිසිම කෙනෙක් තෙරුවන් සරණ නොයානම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කලේ නෑ. චතුරාර්ය සත්‍යය අවබෝධ කලේම තෙරුවන් සරණ ගිහිල්ලා. දැන් අපි කියමුකො ආලවක බුදුරජාණන් වහන්සේ වෙහෙසෙව්වා කියලා. ආලවකට ධර්මය අවබෝධ වෙන්නෙම බුදුරජාණන් වහන්සේ විශ්වාස කරලා ධර්මය වැටහිලා, ඒ බුදුරජාණන් වහන්සේගේ ධර්මයේ පිහිට ලබාගන්න පුලුවන් කියන හැඟීමට පත්වෙලා. වචනයෙන් ප්‍රකාශ කරන්න ප්‍රමාද වෙන්න පුලුවන්. නමුත් තෙරුවන් සරණ යෑම තුළම, බුදුරජාණන් වහන්සේ විශ්වාස කිරීම, ඇදහීම, ඇදහීම කියලා කියන්නෙ බුදුරජාණන් වහන්සේගේ වචනය විශ්වාස කිරීම, අදහා ගැනීම ඒ චතුරාර්ය සත්‍යය, ඒ ධර්මය අදහා ගැනීම, ඒ තුලින්ම තමයි නිර්වාණය උපද්දවන්නෙ, චතුරාර්ය සත්‍යය අවබෝධය. මොකද පින්වතුනි ඒ තියෙන වැඩපිළිවෙල උනත් පුරුදු කරන්නෙ බුදුරජාණන් වහන්සේට ධර්මයට තියෙන විශ්වාසය නිසානෙ. නැත්නම් කොහොමද පුරුදු කරන්නෙ. අපි කියමු

ඔන්න ජාතක කතාවකින් ධර්මයක් දේශනා කරනවා. එතකොට අපි කියමු දැන් කෙනෙක් නිවන් දකින්න කැමැත්තෙන් ඉන්නෙ. එයා කියනවා ඔය ජාතක කතා කිය කියා ඉඳලා හරියන්නෑ මේ පටිච්ච සමුප්පාදය කියන්න ඕන කියලා. එතකොට දැන් මේ ජාතක කතාව කවුද කියලා තියෙන්නෙ. ජනාධිපති කියපු එකක්ද, ඇමති කෙනෙක් කියපු එකක්ද, එහෙම නැත්නම් අපේ දෙමව්පියො, තාත්තා කියපු එකක්ද, සීයා කියපු එකක්ද, ඒ ජාතක කතාව වදාළේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේනෙ. දැක්කද තමන් නොදැනී ශාස්තෘන් වහන්සේට ගැරහෙන හැටි. ධර්මයට ගරහන හැටි. ඇයි ඒ, පණ්ඩිතමානය නිසා. ලොකුවට අල්ලන්න යනවා. තමන්ගේ ශාස්තෘන් වහන්සේගේ ගුණ ගැන, ඒ ශ්‍රී සද්ධර්මයේ ආනුභාවය ගැන දන්නෙ නෑ. යම්කිසි කෙනෙක් මේ ශ්‍රී සද්ධර්මය ආනුභාවය දන්නවා නම්, බුදුරජාණන් වහන්සේගේ සරණේ තියෙන වටිනාකම දන්නවා නම් එක බණ පදයකට, එක වචනයකට හානියක් වෙනවාට තමන්ගෙන් වැරදි වචනයක් පිටවෙනවාට කැමති නෑ. මේ සියලුම ශ්‍රී සද්ධර්මය බුදුරජාණන් වහන්සේගේ හදමඩලෙන් පැනනැගුණෙ. ඒ ධර්මයා, මේ කියන බණ පද ටික කියන්න තමයි ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඇස්, ඉස්, මස්, ලේ දන්දිදී, අර විදියට අත පය කපද්දි ඉවසලා මෛත්‍රිය වඩ වඩා, ලොව්තුරා සම්බුදු බව පැතුවේ මෙන්න මේ සරණ දෙන්න. ඒ නිසා තිසරණයට ගරහලා පව් රැස් කරගන්න එපා. ඒ අයට යන්න වෙනම අපායක් තියෙනවා පින්වත්නි. ඊටපස්සෙ තියෙනවා දුක්ඛං දුක්ඛසමුප්පාදං දුක්ඛස්සච අතික්ඛමං අරියං චට්ඨං භිඛං මග්ගං දුක්ඛූපසමගාමිනං, එතකොට මේ දුකත් දුක්ඛ සමුදයත් නිරෝධයත් මාර්ගයත් කියන චතුරාර්ය සත්‍යය ධර්මය, ඒතං කෝ සරණං කේමං ඒතං සරණ සරණමුත්තමං, ඒ චතුරාර්ය සත්‍යය අවබෝධ කිරීම තියෙන්නෙ මේ සරණට පැමිණිලා. එතන තමයි සරණ. ඒක තමයි උතුම් සරණ. ඒතං සරණ මාගම්ම සබ්බ දුක්ඛා පමුච්ඡති, මේ සරණට පැමිණිලා තමයි සියලු දුකින් නිදහස් වෙන්නේ කියලා බුදුරජාණන් වහන්සේම ධම්මපදයේ වදාළානෙ, බුද්ධවර්ගයේ. මේ සරණට පැමිණිලාමයි දුකෙන් නිදහස් වෙන්නේ කියලා. ඒ නිසයි මෙච්චර තිසරණය ගැන කියන්නෙ. මොකද මේ ලෝකෙ යම්කිසි කෙනෙකුට නිවන අහිමි වුනා නම් මාර්ගය වැරදුනා නම් ඒ සියලු දෙනාටම වැරදුනේ තිසරණයට ආපු නැති එක. ඒ නිසා මතක තියාගන්න එකපාරටම හැදෙන ගහකට වැඩිය, හොඳට කල්යල් අරන් පදම් වෙවී හැදෙන එකේ ආයුෂ වැඩියි. හොඳට පදම් වෙවී හැදෙන්න. තිසරණයෙන් හොඳට පදම් වෙන්න.

චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න නම් බුදුරජාණන් වහන්සේ සරණ යන්නම ඕන. ශ්‍රී සද්ධර්මය සරණ යන්නම ඕන. ආර්ය මහා සංඝරත්නය සරණ යන්නම ඕන. තමන්ගේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ගැන හදවතට දැනෙන්නම ගුණ කල්පනා කරන්න ඕන. මේ පින්වතුන්ට මුණ ගැහිලා නැද්ද, මට නම් මුණගැහිලා තියෙනවා හරි පණ්ඩිතමාන්නෙ මිනිස්සු බුදු ගුණ වලට කැමති නෑ. තිසරණය කියන එකට කැමති නෑ. කියන්න ඕන කෙලින්ම අනිත්‍යයි කියලා, ඒකම කියන්න ඕන. අනිත් ඒවට කැමති නෑ. චෛත්‍ය පූජා වලට කැමති නෑ, බෝධි පූජාවල් වලට කැමති නෑ. පින්වතුනි බුදුරජාණන් වහන්සේ හැරුණුකොට ප්‍රඥාවෙන් අග්‍රතම උත්තමයා කවුද. සාරිපුත්ත මහරහතන් වහන්සේ. මේ පින්වතුන් දන්නවද රහතන් වහන්සේලා අතරින් වැඩිපුරම බුදුගුණ කියපු රහතන් වහන්සේ කවුද කියලා දන්නවාද, රහතන් වහන්සේලා අතරින් වැඩිපුරම බුදුගුණ කියපු රහතන් වහන්සේ තමයි, සාරිපුත්ත මහරහතන් වහන්සේ. උන්වහන්සේ තමයි ප්‍රඥාවෙන් අග්‍රතම කෙනා. ප්‍රඥාවෙන් අග්‍රතම කෙනා තමයි මේ ලෝකෙ වැඩිපුරම බුදු ගුණ කිව්වෙ. මේ නිවන් මාර්ගය සර්ව සම්පූර්ණයෙන්ම දන්න කෙනා කවුද. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. ඒ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ආනන්ද ස්වාමීන් වහන්සේට වදාළේ කුමක්ද, ආනන්ද ඔබ යම්කිසි කෙනෙකුට කරුණාවක් මෛත්‍රියක් තියෙනවා නම්, ඒ අය ඔබට සවන් දෙනවා නම් ඒ අයව බුදුරජාණන් වහන්සේගේ සරණයේ පිහිටුවන්න කිව්වා. ධර්මයේ සරණයේ පිහිටුවන්න කිව්වා. ආර්ය මහාසංඝ රත්නයේ සරණයේ පිහිටුවන්න කිව්වා, පඤ්චසීලයේ පිහිටුවන්න කිව්වා. මේ ලොව්තුරා බුදු බණපද නේද. පින්වතුනි තව එක කාරණාවක්. ඒ තමයි ගිහි මිනිස්සුන්ට උපාසකයන්ට, මිම්මක් තියෙනවා. ඒ තමයි, කවුරු වගේ වෙන්න කියලද වදාළේ. චිත්ත ගෘහපතිතුමා වගේ වෙන්න කියලා. චිත්ත ගෘහපතිතුමා කියලා කියන්නෙ ඉඳගෙනම ඒ මොහොතේම ධ්‍යාන හතරට සමවැදෙන්න පුලුවන්. මහා ධර්ම කථිකයෙක්. ඒ වගේම තමයි අනාගාමී උත්තමයෙක්. ගොඩාක් දන්පැන් දුන්න කෙනෙක්. චිත්ත ගෘහපතිතුමා ලෙඩවෙලා ඉන්නකොට දෙවිවරු වටේ ඉඳගෙන කිව්වා, ඔබ ආපහු එන්න, ආපහු එන්න, අපේ ලෝකෙට එන්න කියලා. එතකොට චිත්ත ගෘහපතිතුමා කිව්වා මේ ඔක්කොම අනිත්‍යය වෙලා යනවා කියලා. ඒ තමයි තමන්ගෙ හිතේ තියෙන ධර්මය. එතකොට තමන්ගේ හිතේ තියෙන ධර්මය අනිත්‍යනෙ. ඉතින් තමන්ට පෙනෙද්දිත් තමන් සිහිකලා මේක අනිත්‍යයි කියලා. ඉතින් අනිත් වටේපිටේ

ඉන්න පිරිස ඇහුවා මොකද සිහි විකල් වෙලාද. නෑ මේ දෙවිවරු එක එක ඒවා කියනවා. අනේ එහෙනම් අපිටත් අවවාද කරන්න. මේ බුද්ධ ශාසනයේ මිම්ම, ගිහි ශ්‍රාවකයන්ගේ. ඉඳගෙන ඉන්න ආසනයේම මොහොතින් ධ්‍යාන හතරටම සමවදින්න පුලුවන් කෙනා, අනාගාමී වෙච්ච කෙනා, සෑම අරමුණක්ම අනිත්‍යයි කියලා විදර්ශනා කරන්න පුලුවන් කෙනාගෙන් තමාගේ ඥාතීන් උපදෙසක් ඉල්ලනවා, මැරෙන වෙලාවේ. මේ දෙවියෝ පෙනි පෙනී. කිව්වා එහෙනම් මං කියන්නම්. බුදුරජාණන් වහන්සේගේ සරණ පලයල්ලා. ධර්මයේ සරණ පලයල්ලා. සංඝයා සරණ පලයල්ලා. පඤ්චසීලය රැකපල්ලා කියලා තමයි චිත්ත ගෘහපතිතුමා මියගියෙ. දැන් අකනිටා බ්‍රහ්මලෝකෙ. කොහොමද කියලා බලන්න, පණ්ඩිත නෑනෙ. ධර්මය ඒකනෙ. බුදුරජාණන් වහන්සේගේ අවවාදය ඒකනෙ. ඒ නිසා මම මෙච්චර කරුණු කිව්වෙ. මුලා වෙන්න එපා. අතරමං වෙන්න එපා. අමුතු ලෝක වල කැලැත්තෙන්න එපා. පින්වතුනි නිවන් දකින්න කැමැති නම්, දුකින් නිදහස් වෙන්න කැමැති නම් පින්වතුනි මේක කරන්න. බුදුරජාණන් වහන්සේ සරණ යන්න, ධර්මයේ සරණ යන්න, සංඝරත්නය සරණ යන්න. පඤ්චසීල ප්‍රතිපදාවේ ඉන්න. ඔබට මේ තෙරුවන් සරණ යාම පිණිස මහඟු අත්වැලක් වේවි මේ දහම් වැඩසටහන. ඒ නිසයි පරම පූජනීය ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ අපව ඒ සඳහා යොමු කෙරෙව්වෙ. ඒ නිසා මේ වැඩසටහන් මාලාවෙනුත් ගෞතම බුදුසසුනේ පිහිට ලබනු කැමති ඔබට මේ ධර්ම දේශනා මාලාව මහඟු අත්වැලක් වේවි කියලා අපි හිතනවා. පින්වන්තයෝ, පිනැත්තෝ මෙයින් ප්‍රයෝජන ගනිත්වා. පිනැත්තන්ටම මේ ධර්මය ඇසේවා. පිනැත්තන්ටම මේ ධර්මය වැටහේවා. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ගැන, ධර්මය ගැන, ආර්ය මහා සංඝරත්නය ගැන ප්‍රසාදය වැඩේවා. මේ නිවන් මාර්ගයේ ආරම්භය වන උතුම් තිසරණය ඔබගේ හදවත තුළ පිහිටාවා කියලා ආශිර්වාද කරනවා.

ඉතින් අද අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහනේ පළවෙනි දහම් වැඩසටහන. ඇමරිකාවේ පදිංචි පින්වතු චතුරංග රණසිංහ පුතා, කාවින්දි රණසිංහ දියණිය ඒ දරුවන් තමයි මේ දහම් වැඩසටහනේ අද දායකත්වය දරන්නේ. ඉතින් අපි විශේෂයෙන් මේ දරුවන්ට උවමනා වෙලා තියෙනවා මේ ලෝකය පුරා පැතිරගෙන යන මේ භයානක වසංගතය දුරුවීම පිණිස, කොරෝනා වසංගතය දුරුවීම පිණිස, ඒ වගේම මේ රෝගයෙන් ආරක්ෂා වීම පිණිස සෙත් ප්‍රාර්ථනා කරන්නටත්. ඉතින් නිවන පිණිස තෙරුවන් සරණ යන්න ඕන මූලිකවම. ඊළඟට බුදුරජාණන් වහන්සේලා පහළ වීම දුර්ලභයි කියන මේ

උතුම් බණ පද බුදුරජාණන් වහන්සේගේ වචනයෙන් ධම්මපද ගාථාවලින් අපි අද ධර්ම දේශනා කළේ. ඉතින් ඒ ධර්ම දේශනාවෙන් රැස්වුනු සියලු පින් බලයෙන් උතුම් බුද්ධානුභාවයෙන්, ධම්මානුභාවයෙන්, සංඝානුභාවයෙන්, මේ වසංගතය දුරින්ම දුරුවේවා. මේ දරුවන්ටත් සියලු දෙනාටත් ආරක්ෂාව සැලසේවා කියලා පළමුවෙන්ම සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම සෙත් ප්‍රාර්ථනා කරනවා, ඒ වගේම පින් පමුණුවනවා සියලුම දෙවි දේවතාවුන් වහන්සේලාට මේ පින් අනුමෝදන් වේවා. ඒ වගේම අදින් ආරම්භ වන මේ දහම් වැඩසටහන සුවසේ ඉෂ්ට සිද්ධ කරගන්නට මේ පින්වතුන්ට ධර්මය අහන්නටත් ඒ දෙවියන්ගේ දිව්‍ය උපකාරය සළසත්වා. මේ ලක්දෙරණත්, මනුෂ්‍ය වර්ගයාත්, මේ ලෝකයත්, මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. දෙවිවරු මේ පින් සතුටින් අනුමෝදන් වෙත්වා කියලා අනුමෝදන් කරනවා. ඒ වගේම මියපරලොව ගිය සියලූම ඥාතීන්ට මේ පින් අනුමෝදන් වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පරම පූජනීය ගුරුදේවොත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා ඔබට මේ දහම් වැඩසටහනිනුත් ධර්මය අහන්න ඔබට අවස්ථාව සැලසෙන්නෙ. ඉතින් ඒ නිසා අපිට මග පෙන්වන, අපිට මේ ශාසනයේ පිහිට පිළිසරණ සදාදෙන අපගේ ගුරු දෙවිඳුන් නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා, සියලු ස්වාමීන් වහන්සේලාටත්, සිල් මෑණිවරුන්ටත්, විශේෂයෙන්ම ගංගොඩවිල ධම්මදින්නා මෙහෙණින් වහන්සේට, පින්වත් ගංගොඩවිල ධම්මදීපා මෙහෙණින් වහන්සේට මේ පින් අනුමෝදන් වෙලා සියලුම සඟරුවනට, මේ මෑණියන් වහන්සේලාට ගෞතම බුද්ධ ශාසනයෙන්, උතුම් තිසරණය තුළ බලවත්ව තව තව පිහිටලා, ඒ වගේම මේ ගෞතම බුද්ධ ශාසනයේ පිහිට පිලිසරණ ලබාගන්න දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා. ඒ වගේම චතුරංග රණසිංහ පුතාටත්, වෛද්‍ය කාවින්දි රණසිංහ සොයුරියටත්, සෙනරත් රණසිංහ පියාණන්ටත්, අශෝක පෙරේරා මහත්මයාටත් මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම මේ වසංගත රෝගයෙන් ආරක්ෂා වෙලා කරදරයක් පීඩාවක් රෝගයක් ආබාධයක් නැතිව තුණුරුවන් සරණින් මේ කරන පින් බලයෙන් ආරක්ෂා වේවා. මේ ලක්දෙරණටත් ලෝකයටත් ව්‍යසනයක්ව පවතින ව්‍යසනය දුරින්ම දුරු වෙලා සියලු දෙනාට ආරක්ෂාව සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට ධර්ම දායකත්ව දරණ සියලු දෙනාට පින් සිදු වේවා. ඒ වගේම ඔබ සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වෙලා මේ දුර්ලභවයි

මනුස්ස ජීවිතේ ලැබුනෙ. ඔබ ජීවිතේ මෙතෙක් රැකගත්ත එකත් පුදුම දුර්ලභ බවක්. මේ ධර්මය නිතර ඇහෙන එක ඉතාමත් දුර්ලභයි. ගෞතම බුද්ධ ශාසනයේ බුදු කෙනෙක් අපිට මුණගැහුනා. බුදුරජාණන් වහන්සේලා පහළ වීම දුර්ලභයි. ඒ සරණයේ පිහිටන්න. ඒ උතුම් තිසරණයේ පිහිටලා තමයි සියලු දුකින් නිදහස් වෙන්නෙ. ඒ නිසා සියලු දුකෙන් නිදහස් වීම පිණිස තිසරණයේ පිහිටන්න ඔබ කාටත් වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=oOfykQkkcZw&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=2&t=1s

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අදත් අපි මේ හෝරාව තුළ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පිහිට පිළිසරණ ලබන්නයි සූදානම් වෙන්නෙ. අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහනේ දෙවැනි වැඩසටහන අද. අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ අපිට මග පෙන්නුවා මේ කාලවකවානුව තුළ බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ජීවිතයත් අසිරිමත් සම්බුදු ගුණත්, ඒ වගේම මේ තිසරණය තුළින් තමයි මේ බුද්ධ ශාසනයට ප්‍රවේශ වෙන්න තියෙන්නෙ. සරණ තියෙන කෙනාටයි නිර්වාණය කරා යන්න මාවත සැලසෙන්නේ කියලා මේ දහම් අවවාද

ලබාදෙන්න අපිට ආශිර්වාද කලා. ඉතින් ඒ නිසා ඉතින් අද දවසේ මේ උතුම් දහම් වැඩසටහන ශ්‍රද්ධා රූපවාහිනියේත් ලක්විරු ගුවන්විදුලියේත් විකාශනය කරවන්ට දායකත්වය දරන්නේ බෝවත්ත, වීරපොකුණ, සරණ වැඩිහිටි නිවාසයේ පින්වත් කරුණාසීලී මෑණියන් විසින්, ඒ වගේම දූදරු පිරිස, ඒ වගේම රේණුකා ජයකොඩි මහත්මිය, වීරපොකුණෙ ධම්මික මහත්මයා ඇතුළු මේ පින්වතුන් එකතු වෙලා බෝවත්ත, වීරපොකුණ සරණ වැඩිහිටි නිවාසයේ පින්වත් කරුණාසීලී මෑණියන් ඉතාමත් ශ්‍රද්ධාවෙන් දුක සේ මේ ධර්මය ඉගෙන ගනිමින් මේ ධර්ම දානය දෙන්න මේ පිරිස එකතු කරගෙන හිතවතුන් යොමු කරලා අද මේ මහා පුණ්‍යකර්මය ඉෂ්ට සිද්ධ කරගන්නෙ. ඉතින් එතුමියටත් ඒ සියලු දෙනාටත් බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා, බුදුරජාණන් වහන්සේගේ ධර්ම දානය, බුදුරජාණන් වහන්සේගේ බුදු ගුණ, ඒ වගේම මේ සරණේ ලාභය මේ ලෝක සත්ත්වයාට අහන්න සලස්වලා. පින්වතුනි මේ ධර්මදානයේදී, දැන් මේ ලෝකයේ ආමිස දානය තියෙනවා ධර්ම දානය තියෙනවා. එයින් අග්‍රම දානය ධර්ම දානයනෙ. ඒ ධර්ම දානයේදි ක්‍රම කීපයක් තියෙනවා. එකක් තමයි අනුකම්පාවෙන් දහම් දේශනා කරන දේශකයාණන් වහන්සේට ධර්ම දානයේ පින සැලසෙනවා. ඊළඟට කන් යොමාගෙන ඒ ධර්මය ශ්‍රවණය කරන කෙනාට ධර්ම දානයේ පින සැලසෙනවා. ඒ වාගේම මේ විදියට බොහෝ දෙනාට ධර්මය අහන්න සලස්වන්න ධර්ම දායකත්ව දරලා, දැන් ඒකනෙ අපේ දුටුගැමුණු මහරජ්ජුරුවො රුවන්වැලිසෑය හදන්න මූලික වුනු මහරජතුමා ඒ වගේම ලෝවාමහාප්‍රාසාදය හදන්න මූලික වුනු මහ රජතුමා ඒ වගේම මිරිසවැටිය හදන්න මූලික වුනු මහ රජතුමාට, ජීවිතේ අඩුවක් වාගේ දැනුනා විශාලයෙන් ධර්ම දානයේ පින රැස් නොවිච්ච එක. එතුමාට ඒක කල්පනා වෙලා මම ධර්ම දානයේ පින රැස් කරගන්න ඕන කියලා මහාවිහාරයේ භික්ෂූන් වහන්සේලා කැඳවලා මංගල සූත්‍රයෙන් දහම් දෙසන්න ඕන කියලා ධර්මාසනයට ගොඩවුනා. එතකොට ධර්මාසනයට ගොඩවුනා විතරයි ඒ ධර්මාසනයේ පින්වතුනි තියෙනවා අමුතු දෙයක් තියෙනවා ධර්මාසනයේ. එතකොට මේ රජතුමාගේ ඒ රාජ තේජස නැතිවුනා ධර්මාසනයේ දහම් තේජසට. ඊටපස්සෙ රජතුමාට දැන් බණ කියාගන්න බෑ, මම මෙතෙන්ට අද මේ සූදානම් වෙලා ඉන්නෙ ධර්මය දේශනා කරන්නයි කියලා වචනයක් දෙකක් ගොනුකරගන්නකොටම ඇඟ වෙව්ලන්න ගත්තා. කකුල් ගැහෙන්න ගත්තා. දාඩිය දමන්න පටන් ගත්තා. ඉතින් රජතුමා ඒ වෙලාවෙම - තව එක හේතුවක් වෙන්න ඇති ගොඩාක් භික්ෂූන් වහන්සේලා හිටපු එක - ඒ

වෙලාවෙම ධර්මාසනයෙන් බැහැලා වන්දනා කරලා මේ ලෝකයේ ධර්මදේශකයාණන් වහන්සේලා දුෂ්කර දානයක් තමයි මේ දෙන්නෙ කියලා වන්දනා කරලා එදා ඉඳලා ධර්ම දේශකයාණන් වහන්සේලාට උපස්ථාන කලා. ඒ වගේම ධර්ම දේශක ගිහි පැවිදි සියලු දෙනාට නඩත්තු අරමුදල් පිහිටෙව්වා. ගම්වර වලින් උපස්ථාන සැලැස්වෙන්න සැලැස්සුවා. මේ වගේ ධර්ම දාන පැවැත්වූවා අන් අය ලවා. ඒ තුලින් රජ්ජුරුවෝ ධර්මදාන පින රැස්කරගත්තා. ඉතින් මං මේ කාරණාව කිව්වෙ ඔබට හිතලා සතුටු වෙන්න, මොකද, සමහර අයට ධර්ම දානයේ පින කියන එක, දැන් මේ කාලෙ ආමිස දානය ගොඩාක් සිද්ධ වෙනවානෙ. දැන් මේ පහුගිය කාලේ එළවළු විශාල ප්‍රමාණයක් හිතාගන්න බැරි විදියට ශ්‍රද්ධා රූපවාහිනියෙන් මුල්වෙලා දාන පැවැත්වූවනෙ. එතකොට විශේෂයෙන් ඒ වගේ දාන ගොඩ මිනිස්සු ගොඩාක් ඒකට සහසම්බන්ධ වෙනවා. ඒ අතරෙ ඒ වගේම තමයි ශ්‍රද්ධා රූපවාහිනියෙ, ලක්විරු ගුවන්විදුලියෙ ධර්ම දාන සඳහාත් බොහෝ පිරිස එකතු වුනා. ඉතින් ඒ නිසා හැම පැත්තෙන්ම පින් කරගන්න අය ඉන්නවා. ඉතින් ඒ ගැන හිතලා සතුටු වෙන්න. සමහර විදේශරටවල ඉන්න - මට ලෙබනන් වලදින් අම්මා කෙනෙක් කතා කලා. ඒ රටේ ප්‍රශ්න ගොඩායි. ඒ රටේ මිනිස්සු ගොඩාක් අසරණ වෙලා. ඒ වගේම සමහරුන්ගේ රැකියා අහිමි වෙලා. ඒ වගේම ඒ අයගෙ වැටුප සම්පූර්ණයෙන්ම භාගෙට භාගයක් අඩුවෙලා. සමහර අයගෙ වැටුප් අහිමිවෙලා. එහෙම තියෙද්දිනුත් ධර්ම දානයට මුදල් එකතු කරනවා, දැන් ඒ රටේ කලබල ඉවරවෙනකල් ඉන්නවා ධර්මදානයට මුදල් ටිකක් දාන්න. ඉතින් ඒ මිනිස්සුන්ගේ ඒ ශ්‍රද්ධාව හිතාගන්න බෑ අපිට, මේ කලබල අස්සෙ. ඉතින් ඒ නිසා බොහෝ දෙනෙකුට යහපත පිණිස පවතිනවා. ඉතින් අද මම ධර්ම දේශනාව මේ විදියට ආරම්භ කරන්නම්. ඒ තමයි පහුගිය කාලෙ මතකද ඇඳිරිනීතිය තිබ්බ කාලෙ කට්ටිය හරියට එළියට පනිනවා ගෙවල්වල නවත්තගන්න බෑ. ඒකට හේතුව මිනිස්සු පුරුදු වෙලා තියෙනවා ඒ සැපය උපද්දවන්නෙ එක තැනක ඉඳලා නෙවෙයි, ඒ මිනිස්සුන්ට හැමතැනම යන්න ඕන. එක තැනක ඉඳලා පුරුදු නෑ. ඉතින් මේ රටේ තත්ත්වය ඔහොම වෙද්දි ඇමරිකාවෙ නීති පනවලා තියෙද්දින්, දවසට දෙදහ තුන්දාහ විටෙක හාරදාහ පන්දාහ මැරෙද්දින් ඒ මිනිස්සු මුඛවාඩම් අයින් කරලා, ගෙවල්වලින් එළියට පැනලා, වීදිවලට ඇවිල්ලා, ඊළඟට මුහුදු වෙරළේ නාලා, ඇයි ඒ? ඒ මිනිස්සුන්ට එක තැනක ඉඳලා සතුටක් නෑ. ඒ මිනිස්සුන්ගේ සතුට තියෙන්නෙ මුහුදු වෙරළ ළඟට ගියාට පස්සෙ. ඊළඟට ගොඩාක් මිනිස්සුන්ට එළියට පහළියට ගිහිල්ලා

තේ එකක්, කඩේකින් කෝපි එකක් තේ එකක් බීලා ඒ මිනිස්සුන්ගෙ සතුට අල්ලාප සල්ලාපයේ යෙදිලා, ඇතුලකට වෙලා එක තැනකට වෙලා ඉන්න බෑ. මිනිස්සු සැප සොයාගෙන ගිහිල්ලා අවසානයේ දුර්ලභව ලැබුනු මනුස්ස ජීවිතයත් අහිමි කරගත්තා. මතකද ඔබ ඉගෙන ගත්තා කිච්චෝ මනුස්ස පටිලාභෝ කිච්චං මච්ඡාන ජීවිතං කිච්චං සද්ධම්ම සවණං කිච්චෝ බුද්ධානං උප්පාදෝ, බුදුරජාණන් වහන්සේ වදාළා. මනුස්ස ජීවිතේ ඉතාමත් මනුස්ස ජීවිතේ දුර්ලභයි. දුර්ලභ මනුස්ස ජීවිතය රැකගන්න එක දුර්ලභයි, අමාරුයි දුෂ්කරයි. ඉතින් ඒ දුර්ලභ මනුස්ස ජීවිතේ නැතිවෙලා යනවා මේ රෝග නිසා. ඉතින් මං කල්පනා කලේ මොකක්ද ඇත්තටම මිනිස්සු හොයන සැපය. එතකොට ගොඩාක් අය කියනවා, - මට සමහර අය කියනවා හාමුදුරුවනේ පුලුවන්නම් බණක් කියන්න එක මේසේ පවුලේ අය එකතු වෙලා බත් ටිකක් කන්න පුලුවන් බණක් කියන්න. එතකොට ඒ මිනිස්සුන්ගේ ජීවිතේ තියෙන ලොකුම ප්‍රශ්නය තමයි පවුලේ ඔක්කොම ටික එකතැනකට එකතු වෙන්නෙ නැති එක. ඔන්න දැන් ඇඳිරිනීතිය දැම්මා. පවුලේ ඔක්කොම කට්ටිය දැන් එකතු වුනා. එකතු වුනාට ඔන්න රණ්ඩුසරුවල්. හරියට අපිට පැමිණිලි ලැබුනා. ගෙවල් වල දැන් පහුගිය කාලෙ ඔක්කොම එකට හිටියනෙ. දැන් රණ්ඩු. ගෙවල් වල රණ්ඩු. ඉතින් මොකක්දෝ මිනිස්සුන්ගෙ සතුට සුන්නද්දූලි වුනා. ගෙවල්වල රණ්ඩු. ඒක මදිවට මේ ලෝකෙ හත්දීපංකරේ එක එක සල්ලාලකම් කර කර හිටපු පිරිසත් එකතු වුනානෙ. ඊටපස්සෙ නොයෙක් ප්‍රශ්න. පහුගිය කාලෙ අපිට දැනගන්න ලැබුනු තොරතුරු අනුව ගොඩාක් අපචාර කටයුතු සියයට තිහකින් විතර වැඩිවෙලා කියලයි දැනගන්න ලැබුනෙ. එතකොට ඒවගෙනුත් තේරෙනවා අර මිනිස්සුන්ට එක තැනක හිටියට පස්සෙ පිස්සු වගේ. සැපයක් නෑ. ඉතින් බුදුරජාණන් වහන්සේ මේ ගැන කුමක්ද වදාළේ කියලා අපි බලමු. බුදුරජාණන් වහන්සේගේ කාලෙ ස්වාමීන් වහන්සේලා ටිකක් එකතු වෙලා මොකක්ද මේ සැපය කියලා කතා කර කර හිටියා. එක හාමුදුරු නමක් කිව්වා මොන, රජ සැප තරම් සැපක් තියෙනවද කියලා ඇහුවා. බලන්නෙපෑ කිව්වා අන්තඃපුරේ. බලන්නෙපෑ කිව්වා හස්තියා පිටේ යනකොට. බලන්නෙපෑ කිව්වා රාජභෝජන වළඳනකොට. බලන්නෙපෑ කිව්වා රාජවස්ත්‍රාභරණයෙන් සැරසිලා මිණිකිරුළු දරාගෙන කගපත අතට ගත්තාට පස්සෙ දිලෙන සෝභාව. මේ විදියට සැපය කියන්නෙ මේකයි. ඊටපස්සෙ අනිත් හාමුදුරු නමක් කිව්වා ඕවා මොනවා තිබ්බත් ඇල් හාලේ බතුයි මසකුයි තොල් මර මරා කනවා තරම් නම් සැපක් නම් මේ ලෝකේ තවත් නැතය. තවත් හාමුදුරුනමක් කිව්වා ඔය

මොනවා තිබ්බත් වැඩක් නෑ කොහේහරි ගුලිවෙලා බුදියාගන්න තිබ්බානම්. නිදාගන්න තිබ්බා නම් ඒක තරම් සැපයක් නැත කියලා. ඊටපස්සෙ ඔය වාගේ එක එක්කෙනා සැප ගැන කතා කර කර ඉන්නකොට බුදුරජාණන් වහන්සේ එතනට වැඩියා. කුමක්ද පින්වත්නි මේ කතා කර කර හිටියේ. අනේ ස්වාමීනී අපිට මෙහෙම කතාවක් තමයි ඇතිවුනේ. සුදුසු නෑ, සුදුසු නෑ භික්ෂූන්ට ඕවා කතා කරන්න. ඔය කතා කරන සැප ගැන ඔය විදියට කතා කලොත් නම් නිවන් දකින්න බෑ. දැන් අපිට අද කාලේ කතා වෙන කතාවිලි බලන්න. මම ඔය විදේශ ධර්ම ප්‍රචාරක කටයුතු වලට යනකොට අම්මෝ මාත් එක්කම කියලා තියෙනවා ස්වාමීනී සැප බලන්න නම් මේ රටවල්වලටම එන්න ඕන. මේ රටවල් වල තමයි සැප කියන එක තියෙන්නෙ. දැන් ඒ මිනිස්සු ඒ සාපය වින්දා. එක වතාවක් හරි මේ පින්බර ලක්දෙරණට ගරහලා මේ බටහිර ජාතීන්ගේ යාන වාහන, ගොඩනැගිලි, ඩොලර් වලට රැවටිලා සැපයි කියලා උදම් ඇනුවා නම් ඒ සාපෙට තමයි මෙතෙක් යම් දුකක් වින්දා නම් විදින්න වුනේ. මේවා පුදුම සහගත දේවල්. එතකොට මේ බටහිර ලෝකෙ කාමය දැකලා සැපයි කියනවා නම් බුදුරජාණන් වහන්සේ ඒකයි වදාළේ පින්වත් මහණෙනි, ඔය විදියට සැපයි සැපයි කියලා හිටියොත් නම් නිවන නම් දකින්න බෑ කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ ගාථාවක් වදාළා සැපය ගැන. මොකක්ද ඒ සැපය, බුදුරජාණන් වහන්සේ වදාළා සුඛෝ බුද්ධානං උප්පාදෝ සුඛා සද්ධම්ම දේශනා සුඛා සංඝස්ස සාමග්ගී සමග්ගානං තපෝසුඛෝ. සුඛෝ බුද්ධානං උප්පාදෝ, බුදුරජාණන් වහන්සේ නමක් පහළ වීම තමයි කිව්වා සැපය. සුඛා සද්ධම්ම දේශනා, ඒ ශ්‍රී සද්ධර්මය දේශනා කිරීමක් කියලා යමක් ඇද්ද ඒක තමයි කිව්වා සැපය. සුඛා සංඝස්ස සාමග්ගී, සංඝයාගේ සමගිය තමයි කිව්වා සැපය. සමග්ගානං තපෝසුඛෝ, සමගි වූවන්ගේ තපස, කෙලෙස් තැවීම තමයි සැපය කියලා බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරන්න යෙදුනා. සුඛෝ බුද්ධානං උප්පාදෝ, බුදුරජාණන් වහන්සේ නමක් පහළ වීම තමයි සැපය. බුදුරජාණන් වහන්සේ නමක් පහළ වුන නිසා තමයි පින්වත්නි, මේ ලෝකයේ යම්කිසි කෙනෙක් අර්හත්වයට පත්වුනා නම් බුදුරජාණන් වහන්සේ නමක් පහළ වුන නිසා. ඊළඟට අනාගාමී වුනා නම්, බුදුරජාණන් වහන්සේ නමක් පහළ වුන නිසා. සකදාගාමී වුනා නම්, සෝතාපන්න වුනා නම්, ඒ සියල්ලම බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙච්ච නිසා. පින්වතුනි ඔබ දන්නවද දන්නෑ දිව්‍යලෝක පිරෙන්නෙ, දෙව්ලොව ගොඩාක් දෙවිවරු ඉපදෙන්නෙ බුදුරජාණන් වහන්සේ නමක් පහළ වුන කාලෙ. ඒ නිසා තමයි දිව්‍යලෝකෙ දෙවිවරු

වැඩියෙන් බුද්ධ ශාසනේ තියෙන කාලෙ උපදිනකොට දෙදෙව්ලොවට අධිපති සක්දෙවිඳු උදම් අනනවා කියනවා. ප්‍රීති ඝෝෂාකරනවා කියනවා. මේ හායංති අසුරා කායා, මේ අසුර කාය පිරිහිලා යනවා මේ දුක්ඛිත ලෝක. පරිපූරන්ති දේවා කායා, මේ දෙවියන්ගේ ශරීර, දිව්‍ය වූ ලෝකය පිරිලා යනවා කියලා සන්තෝෂයට පත්වෙනවා. මෝදන්ති වත බෝදේවා තාවතිංසා සයින්දකා, සියලූම තව්තිසා දෙවියොත් සක්දෙවිඳු සමඟ සන්තෝෂයට පත්වෙනවා. දෙව්ලොව පිරෙන්නේ බුදුරජාණන් වහන්සේ නමක් පහළ වීමෙන්. පිනක් දහමක් කුසල් අකුසල් යහපත අයහපත මේ ඔක්කොම බුදුරජාණන් වහන්සේ පහළ වීමෙන්. බුදුරජාණන් වහන්සේ නමක් පහළ නොවුනා නම්, අපිට බුදුරජාණන් වහන්සේ නමක් නොලැබුනා නම් අපි ඉවරයි. මේ ලෝක ව්‍යසන, භෝග ව්‍යසන, ඊළඟට වසංගත, රෝග ව්‍යසන මේවා කාලෙන් කාලෙට පින්වතුනි ලෝකෙට එනවා. යුද්ධ කලකෝලහාල ලෝකෙට එනවා. ඉතින් මේවා එද්දි මිනිස්සුන්ට සරණක් නැනෙ. මිනිස්සු අහසට දෑත් ඔසවාගෙන ඉන්නවානෙ. මිනිස්සු කියනවා අපේ දෙවියන්ගෙන් වුනු සාපයක් කියනවා. එතකොට තමන්ට පිහිට සොයාගෙන දෙවියො ළඟට ගිහිල්ලා දෙවියොම සාප කරලා. ඊළඟට දුක් නැතිවෙන්නම දෙවි කෙනෙක් හොයාගෙන ගිහිල්ලා. අවසානයේ මිනී කඳන් කෝටි ගණන් එක තැන ගොඩ ගහලා. අපේ බුදුරජාණන් වහන්සේ සරණ ගිය නිසා මේ ලෝකෙ කිසි කෙනෙකුට මරණයක් උදාවුන් නෑ. මේ ලෝකයේ සත්ත්වයා මරණින් නිදහස් වුනා නම් නිදහස් වුනේ බුදුරජාණන් වහන්සේ සරණ ගිය නිසා. ඒ නිසා හොඳට මතක තියාගන්න බුදුරජාණන් වහන්සේ නමක් පහළ වීමෙන් තමයි සැපය කියන එක උපදින්නෙ. පළවෙනි ධ්‍යානය, දෙවෙනි ධ්‍යානය, තුන්වෙනි ධ්‍යානය, හතරවෙනි ධ්‍යානය, අරූප ධ්‍යාන සැප, මාර්ගඵල සැප, කෙලෙස් දුරුකිරීමේ සැපය, පව් වලින් මිදීමේ සැපය, මේ සියල්ල බුදුරජාණන් වහන්සේ පහළ වූ නිසා. බුදුරජාණන් වහන්සේ පහළ නොවුනානම් මේ ලෝක සත්ත්වයාට සැපය කියන එක, ඒ සැපයෙන් සැනසෙන්න අවස්ථාවක් නෑ. දුක් දුරු කරගන්න අවස්ථාවක් නෑ, ඒ නිසා හොඳට මතක තියාගන්න මේ ලෝකෙ යම්කිසි කෙනෙක් පින්වතුනි දුක දුරු කරලා සැප උපදවාගත්තා නම් බුදුරජාණන් වහන්සේ සරණ ගිය නිසා. මේ ලෝකයේ බුදුරජාණන් වහන්සේ සරණ ගිය නිසාමයි දෙව්ලොව පිරුණෙ. බුදුරජාණන් වහන්සේ සරණ ගිය නිසාමයි සෝවාන් වුනේ. මේ ලෝකෙ යම්කිසි කෙනෙක් සකදාගාමී වුනානම් ඒ කෙනා අනිවාර්යයෙන් බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනෙක්මයි. මේ ලෝකෙ යම්කිසි කෙනෙක් අනාගාමී වුනා නම්

එයා ඒකාන්තයෙන් බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනෙක්මයි. මේ ලෝකයේ යම්කිසි කෙනෙක් අර්හත්වයට පත්වුනා නම් බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනෙක්මයි. ඒ නිසයි පින්වතුනි වදාළේ, ඔබ සෝවාන් වෙන්න කැමැති නම්, සකදාගාමී වෙන්න කැමැති නම්, අනාගාමී වෙන්න කැමැති නම්, අර්හත්වයට පත්වෙන්න කැමැති නම් ඔබ බුදුරජාණන් වහන්සේම සරණ යන්න. බුදුරජාණන් වහන්සේම සරණ යන්න. බුදුරජාණන් වහන්සේ සරණ ගියාට පස්සෙ පින්වතුනි තමන්ගේ මුලු ජීවිතේම ඒ තුළින් සැනසිලා යනවා. උල උඩ ඉද්දින් බුදු ගුණ සිහි කර කර ඉන්නවා. මේක පුදුම දෙයක්. පුදුම සහගත දෙයක් බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියන එක. දැන් මෙතන මේ ශ්‍රී සද්ධර්මය කියන එක, සුබං සද්ධම්ම දේශනා කියලා වදාළේ, පින්වතුනි මේ ලෝකෙ යම්තාක් සංසාරේ පාරමී ධර්මයන් පුරලා බුද්ධ ශාසනේක පිහිට ගන්න යම්කිසි කෙනෙක් ඉන්නවා නම් එයා කරපු පින ඉස්මතු වෙන්නෙ අනිවාර්යයෙන් ඒකෙ ප්‍රතිඵල ලැබෙන්නෙ තමන්ගේ සවනට බණ පදයක් ඇහෙන්නම ඕන. මතක තියාගන්න ඔබ සිහි කරලා බලන්න ආපස්සට ජීවිතේ, ඔබට යම් දවසක ශ්‍රී සද්ධර්මයක් බණපදයක් ඇහුන් නැත්නම් ඔබගේ ජීවිතය වෙනස් වෙන්නේ නැත. පරණ විදියටම ඔබ ඉන්නවා බණ පදයක් ඇහුන් නැත්නම්. ඒ නිසා ශ්‍රී සද්ධර්ම දේශනාවෙන්මයි සැපය ඉපදෙන්නෙ. මේ ලෝක මාර්ගඵල සියල්ලම තවත් කෙනෙක්ගෙන් බණ පදයක් ඇහුව නිසා. ඒ නිසා ශ්‍රී සද්ධර්ම ශ්‍රවණය සැපයක්. සංඝයාගේ සමගිය සැපයක්. සමගි වූ සංඝයාගේ කෙලෙස් තැවීම, තපස සැපයක්. ඉතින් පින්වතුනි බුදුරජාණන් වහන්සේ දිහා බලන්න, බුදුරජාණන් වහන්සේ බොහෝ කාලයකට පස්සෙ කප්ප සකේහි දුල්ලභෝ, බුදුරජාණන් වහන්සේලා කල්ප සීයකටත් දුර්ලභයි. එච්චර දුර්ලභ බුදුරජාණන් වහන්සේ නමක් ලෝකෙට පහළ වෙන්නෙ. බුදුරජාණන් වහන්සේ නමක් ලෝකෙට පහළ වුනාට පස්සෙ බුදුරජාණන් වහන්සේ ගැන කවර කතාද, බුදුරජාණන් වහන්සේ වැඩ හිටපු, සම්බුදු වන මොහොතේ වැඩ හිටපු බෝධීන් වහන්සේගෙන් ගිලිහුණු බෝපතක් අයින් කරපු කෙනාට පවා නිවන් ලැබෙනවානෙ. දුක් දුරු වෙනවානෙ. බුදුරජාණන් වහන්සේ වැඩ හිටපු වෘක්ෂයේ ගිලිහුණු බෝපත අයින් කරපු කෙනාගෙ දුක් දුරු වෙනවානෙ. ඒකාන්තයෙන් බුදුරජාණන් වහන්සේ සරණ යෑම කොයිතරම් යහපතක් ද. බුදුරජාණන් වහන්සේගේ ජයශ්‍රී මහා බෝධීන්වහන්සේ මුල් කරගෙන බෝපත් අයින් කරන, එක රහතන් වහන්සේ නමක් කියාහිටිනවා, මම කරපු පින තමයි මම අතීතයේ බුදුරජාණන් වහන්සේ නමකගේ බෝධීන් වහන්සේගෙන්

ගිලිහුණු බෝපත්‍ර සීයක් අයින් කලා කියනවා, මළුව ශුද්ධ කලා කියනවා. එහෙම නිවන් ලැබිලා. නාගසේන මිලිඳු ප්‍රශ්නය ඇතිවෙන්නේ කාශ්‍යප බුද්ධ ශාසනේ බෝධීන් වහන්සේ නමකගේ බෝපත් ඉවත් කරපු පින් බලයට. බුදුරජාණන් වහන්සේ ගැන කවර කතා ද. බුදුරජාණන් වහන්සේ තැබූ සිරිපා සටහනට වැන්ද කෙනාට දෙවියන් බඹුන් වන්දනා කරන තරම් උත්තරීතර බවක් ලැබෙනවා, අර්හත්වය. බලන්න මේ සංසාරේ ස්වභාවය. බුදුරජාණන් වහන්සේ දවසක් අතීතේ මහවනයේ යනකොට කෙනෙක්ගේ ස්වභාවය දැකලා මහපාරේ සිරිපා සටහන පේන්න තිබ්බා. ඊටපස්සෙ ඔතනින් යනවා වැද්දෙක්. ඒ වැද්දා අර සිරිපා සටහන දැකලා අහෝ මේකනම් සාමාන්‍ය මනුස්සයෙක්ගේ පාසටහනක් වෙන්න බෑ කියලා, පුදුම සහගතයි අපි දන්නෑ කවුද කියලා, මහා උත්තමයෙක්ගේ වෙන්න ඇති කියලා වනමල් නෙලලා, අර සිරිපා වටේට දාලා නළල තියලා වැඳලා යනවා. එච්චරයි කරපු පින. එච්චර කරපු ප්‍රාණඝාතයේ අකුසල් යට ගියා. සිරිපා වන්දනා කරපු පිනම ඉස්මතු වුනා. ඉස්මතු වෙලා දෙව්ලොව ඉපදුනා. අපේ බුද්ධ ශාසනය එනකල් සුගතියේ. අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වුනා, සිරිපා වැඳලා. බුදුරජාණන් වහන්සේ ගැන කවර කතාද, උන්වහන්සේ තැබූ සිරිපා සටහනටත්, පාද ලකුණටත් වැඳපු අයට අමා මහා නිවන් ලබලා දෙනවානෙ. එක තැනකින් තියෙනවා එක තාපසයින් වහන්සේ නමක් ධර්මය දේශනා කරන තැනකට එනවා. ඊටපස්සෙ මිනිස්සු ඔක්කෝම සැනසිලා, මූණුවල දුක් ගොඩාක් දුරුවෙලා. ඊටපස්සෙ කියනවා, නුඹලා සැනසුනේ කොහොමද. අනේ ඔබට අභාග්‍යයක් ඇයි ඔබ ප්‍රමාද වුනේ. මේ සුළු මොහොතකට කලින් ඒ තථාගතයන් වහන්සේ වැඩම කලානෙ. ඊටපස්සෙ උන්වහන්සේ දුක් දුරු කරවන මුණිවරයානෙ. ඒ විස්තරය අහලා, කොහෙද ඒ ශාස්තෘන් වහන්සේ වැඩියේ. ආන්න අර දිශාවට කිව්වා. ඒ දිශාව බලාගෙන සිරසේ දෑත තියාගෙන සාදු සාදු සාදු ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට නමස්කාර වේවා කියලා වැඩපු දිශාවට වැන්දා. දිශාවට වැඳපු පිනෙන් අපේ ගෞතම බුද්ධ ශාසනේ අර්හත්වයට පත්වුනා. බුදුරජාණන් වහන්සේලා ගැන කවර කතාද, උන්වහන්සේලා වැඩපු දිශාවට වඳින අයටත් අමා මහ නිවන් ලබලා දෙනවානෙ. අමා මහ නිවන් ලබලා දෙනවානෙ. පුදුම සහගතයි. තව දවසක් තියෙනවා බුදුරජාණන් වහන්සේ වඩිනකොට මහා වනයේ උන් වහන්සේ පැන් පහසු වෙන්න සිවුර ගහක අත්තක වනනවා. එතනින් ගිය වැද්දෙක් ඒ මහ වනයේ, ඒ සිවුරට වඳිනවා. ඒ පිනෙන් ගෞතම බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වෙලා. සිවුරට වැඳපු

කෙනාටත් අමා මහ නිවන් ලබලා දෙනවානෙ. බුදුරජාණන් වහන්සේලා ලෝකයේ පහළ වීම කොයිතරම් සැපයක් ද. බුදුරජාණන් වහන්සේ සරණ යන එක කොයිතරම් සැපයක් ද. බුදුරජාණන් වහන්සේ පෙරවූ සිවුරට වඳින කෙනාටත් අමා මහ නිවන් ලබලා දෙනවානෙ. උන්වහන්සේ දානය වළඳන පාත්තරයට වඳින කෙනාටත් නිවන් ලබලා දෙනවානෙ. බුදුරජාණන් වහන්සේ සරණ යෑම ගැන කවර කතා ද, බුදුරජාණන් වහන්සේගේ පාත්‍රා ධාතූන් වහන්සේටත් වැඳලා නිවන් ගිය අය ඉන්නවා. බුදුරජාණන් වහන්සේ ගැන කවර කතාද, උන්වහන්සේ වැඩ හිටපු ආසනයට වැඳපු කෙනාටත් නිවන් ලබලා දෙනවානෙ. අපේ ලංකාවේ ලක් ධරණී තලයේ තැනින් තැන තියෙන මහා ස්තූප, මහා පූජනීය ස්ථාන, බුදුරජාණන් වහන්සේ වැඩපු ස්ථාන, ඒ ස්ථානවල අහස උසට ස්තූප හැදුනානෙ. එහි වඳින පුදන සත්කාර සම්මාන කරලා පින් රැස් කරගන්න අයට බොහෝ කාලයක් යහපත පිණිස පවතිනවානෙ. කොයිතරම් නම් යහපතක්ද. උන්වහන්සේලාගේ, බුදුරජාණන් වහන්සේලාගේ ධාතු සෑයක සෑ මළුවේ වල් ඉවත් කරන කෙනාටත් අමා මහ නිවන් ලබලා දෙනවානෙ. බුදුරජාණන් වහන්සේලා පහළ වීම නම් මහා සැපයක්. බුදුරජාණන් වහන්සේ සරණ යෑම නම් මහා සැපයක් පින්වත්නි. මේ පොකුණක හිටපු ගෙම්බෙක්, ඒ බුදුරජාණන් වහන්සේගේ මුවෙන් පිටවෙච්ච හඬ ශ්‍රවණය කරලා, ඒ හඬට පැහැදිලා දෙව්ලොව ඉපදිලා මණ්ඩූක දිව්‍ය පුත්‍රයා, ඒ දිව්‍යලෝකෙදින් සෝවාන් වුනානෙ. බුදුරජාණන් වහන්සේගේ හඬට පැහැදුනත් නිවන් සැප සලසා දෙනවානෙ. බුදුරජාණන් වහන්සේ, ශරීරයෙන් මහා බෝධිසත්ත්වයෝ ඔසවාගෙන ගිය කන්ථක මරණින් මත්තෙ දෙව්ලොව ඉපදුනානෙ. මහා බෝධිසත්ත්වයෝ පිටේ තියාගෙන ගියා කියලා යමක් ඇත්ද, ඒ පින් බලයෙන් නිවන් දැක්කානෙ. කොච්චර යහපතක්ද බුදුරජාණන් වහන්සේ සරණ යන එක. පින්වතුනි, ඒ සුනීත නම් වූ දුගී මනුස්සයා, ඒ සුනීත මිනිස්සුන්ගේ ගෙවල් වල අශූචි එකතු කරන එක්කෙනා, අශූචි කද කරේ තියාගෙන යන්නෙ. මිණිගෙඩියක් හොල්ල හොල්ලා යන්නෙ. යන පාරේ අත්තකින් බිම අමැදගෙන යන්නෙ පා සටහන් නැති වෙන්න බ්‍රාහ්මණයන්ට පෑගෙයි කියලා. එහෙව් වූ සුනීතයන් බුදුරජාණන් වහන්සේ සරණ ගියානෙ. බුදුරජාණන් වහන්සේ සරණ ගිහිල්ලා මේ බුද්ධ ශාසනේ දායාදය ලබාගත්තානෙ. අර මේ අශ්‍රැතවත් පෘථග්ජන ලෝකයේ මිනිස්සු එද්දින් පාරෙන් අයින් වෙලා එන්න සිද්ධ වුන සුනීතට බුදුරජාණන් වහන්සේ සරණ ගිය නිසා මහා බ්‍රහ්මයා ඇවිල්ලා සුනීතයන්ගේ සිරිපා වන්දනා කලානෙ. බුදුරජාණන් වහන්සේ දිවැසින් දුටුවා,

බුදුරජාණන් වහන්සේ වදාළා බලන්න පින්වත් මහණෙනි, බ්‍රහ්මයෙකුට බ්‍රහ්මයෙක් වඳිනවා කියලා. සුනීතයන්ගේ පා ළඟට මහා බ්‍රහ්මයන් වන්දනා කරන්න ගෙනාවා, කුමක් නිසාද, බුදුරජාණන් වහන්සේ සරණ ගිය නිසා. බුදුරජාණන් වහන්සේගේ සරණ සොයාගෙන පා තබාගෙන බුදුරජාණන් වහන්සේ කරා ආපු කෙනාට නැවත පෙරළා සතර අපායකට වැටෙන්නැති විදියකට බුදුරජාණන් වහන්සේ පිහිට සළසලා දුන්නා. ඒකාන්තයෙන් බුදුරජාණන් වහන්සේ සරණ යෑම නම් ආශ්චර්යයි පින්වත්නි, ඒකාන්තයෙන්ම අද්භූතයි. බුදුරජාණන් වහන්සේට අග්ගලා කුඩු ටිකක් පූජා කල කෙනාට නිවන් සැප සලසලා දුන්නා. පිළුණු පිට්ටුව පූජා කල කෙනාට සුගතිය සලසලා දුන්නා. බුදුරජාණන් වහන්සේ පහළ වීම ඒකාන්තයෙන් ආශ්චර්යයි. බුදුරජාණන් වහන්සේ පහළ වීම ඒකාන්තයෙන් ශ්‍රේෂ්ටයි. බුදුරජාණන් වහන්සේ සරණ යෑම ඒ තරම් ශ්‍රේෂ්ටයි. ඔබ දන්නවා දැන් අපගේ අංගුලිමාල මහරහතන් වහන්සේ වෙනුවෙන් අංගුලිමාල මහා ස්තූපය හැදෙනවා. ඇඟිලි මාලයක් ශරීරයේ දරාගෙන කඩුවක් අමෝරාගෙන පින්වතුනි බුදුරජාණන් වහන්සේ පිටිපස්සෙන් හඹාගෙන ආ ඒ ඇඟිලිමල් සොරා නම් වූ මහා දාමරික මනුස්සයා දමනය කලානෙ බුදුරජාණන් වහන්සේ. දමනය කරලා බුදුරජාණන් වහන්සේගේ සිරිපා ළඟ සරණ ගිය නිසා අද ඒ උන්වහන්සේ නමින් මහා ස්තූප බැඳෙනවානෙ. අංගුලිමාල කියන ශ්‍රී නාමය සිහිකරපු පමණින් බොහෝ දෙනාගේ බය තැතිගැනීම් දුරුවෙලා යනවානෙ. කුමක් නිසාද, සරණ ගිය නිසා. ඒ නිසා තමයි අංගුලිමාල මහරහතන් වහන්සේ නිතර උදම් ඇනුවා කියනවා, බලන්න මා තිසරණයට පැමිණුන එකේ යහපත. මං නම් මේ බුදුරජාණන් වහන්සේගේ සරණට පැමිණිච්ච එක පුදුම යහපතක්, බලන්න කියනවා. අද අංගුලිමාල මේ සංසාරයෙන් නිදහස් වෙලා කියලා කියනවා. ඒ නිසා මේ බුදුරජාණන් වහන්සේගේ සරණ කියන්නෙ එහෙම දෙයක් පින්වත්නි. බුදුරජාණන් වහන්සේගේ සරණ කියන්නෙ එහෙම දෙයක්. බුදුරජාණන් වහන්සේ උදෙසා මී වදයක් පූජා කරපු තිරිසන් සතාත් සුගතියේ ගියා. බුදුරජාණන් වහන්සේට පවන් සල සලා හිටපු වනයේ හිටපු හස්ති රාජයාත්, පාරිලෙය්‍ය හස්ති රාජයාත් සුගති සම්පත්තිය ලැබුවා. ඒ නිසා තිරිසන් සතාට පවා අමා මහ නිවනත්, තිරිසන් සතාට පවා සුගති සම්පත්තියත් සලසා දෙනවා කියලා යමක් ඇද්ද මේ බුදුරජාණන් වහන්සේ කෙරෙහි තියෙන හිතේ පැහැදීම ඒ තරම් ශ්‍රේෂ්ටයි. මනුස්සයෙක් වෙලත් දිව්‍යලෝකෙ යන්න තියෙන අමාරුව බලන්නකො. තිරිසන් සතෙක් වෙලා දෙව්ලොව ඉපදෙනවා කියන එක සුළු

දෙයක්ද. බුදුරජාණන් වහන්සේ තමා කරා පැමිණෙන කෙනාට සතර අපායට වැටෙන්න අවස්ථාව සැලසුවේ නැහැ. බුදුරජාණන් වහන්සේට පැන් සිඟිත්තක් පූජා කරන කෙනාට, බත් මිටක් පූජා කරන කෙනාට, බුදුරජාණන් වහන්සේ කෙරෙහි වියතක පමණ වස්ත්‍රයක්, චීවරයක් පූජා කරන කෙනාට අමා මහ නිවනත්, සුගති සම්පත්තියත් සලසලා දුන්නා. බුදුරජාණන් වහන්සේ සරණ ගිය නිසා. මේ බුද්ධ ශාසනේ යම් තාක් නිවන් ලැබූ, මාර්ගඵල ලැබූ යම්කිසි කෙනෙක් වේ නම් ඒ සියලු දෙනාම බුදුරජාණන් වහන්සේ සරණ ගිය අතීතයේ බුදුරජාණන් වහන්සේලාට පැහැදිලා ඒ ශාසන වල පින් කරගත්තු උදවිය. ඒ නිසා ඔබටත් සසර දුකින් නිදහස් වෙන්න උවමනාවක් තියෙනවා නම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න ඔබටත් කැමැත්තක් තියෙනවා නම් ඔබ අනිවාර්යයෙන් බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ශ්‍රී සද්ධර්මය සරණ යන්න, ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. තමන් අතට පත් නිවන් සුවය අත්හැරලා, දීපංකර පාද මූලයේ විවරණ ලැබූ අප මහා බෝධි සත්ත්වයෝ ඊට කලින් බොහෝ කාලයක් සිතින්, බොහෝ කාලයක් සිතින් බුදු බවම සිත සිතා ඉඳලා තියෙනවා. කල්ප ගණනාවක් බුදු බව සිත සිතා ඉඳලා තියෙනවා. වචනයෙන් කල්ප ගාණක් පින්වත්නි, බුද්ධත්වය පිණිස අනේ මට ලොව්තුරා සර්‍වඥතා ඥාණය ලැබෙනවානම් කියන වචනය පිටකරලා තියෙනවා. අද මිනිස්සු හිත හිතා ඉන්නෙ මොනවාද. අද මිනිස්සු කිය කියා ඉන්නෙ මොනවාද. අද මේ මිනිස්සුන්ට මිනිස්සුන්ගෙ ජීවිත වල සැපය උපද්දවන්නෙ මොනවාද, ඒ මිනිස්සු ගෙදරට එනකොට එළියට යන්නෙ කවද්ද කියලා හිතාගෙන එන්නෙ. පාරට යන්නෙ කවද්ද කියලා හිතාගෙන ඉන්නෙ. ගෙවල් දොරවල් කවද්ද අරින්නෙ, කඩවල් කවද්ද අරින්නෙ, රස්සා ස්ථාන කවද්ද අරින්නෙ, ස්කෝලෙ යන්නෙ කවද්ද, මේ මිනිස්සුන්ගේ හිත්වල තියෙන දේ, වචන වල තියෙන දේ ඒවගේ. නමුත් තමන්ගේ දරුවන් දන් දිදී, තමන්ගේ ප්‍රියවූ බිරිඳ දන් දිදී, අසංඛෙය්‍ය අප්‍රමාණ වාරයක් ලොව්තුරා සම්බුදු බවම පැතුවා. තමන්ගේ අත පය කපද්දි ක්ෂාන්තී, ක්ෂාන්තී කියලා ඉවසුවා. ඒ ඔක්කෝම ලොව්තුරා සම්බුදු බව පිණිස නේද. තමන්ගේ දරුවන් දන් දුන්නේ ලොව්තුරා සම්බුදු බව පිණිස නේද. ඒ නිසා තමයි බුදුරජාණන් වහන්සේ නමක් ඒ විදියේ පරිත්‍යාගයක්, ඒ විදියේ අධිෂ්ටානයක්, ඒ විදියේ සත්‍යයක් පින්වතුනි අදටත් ඉන්දියාවේ තියෙනවා එක්තරා ප්‍රදේශයක භූමියක්, ගිනි ඇවිලෙන්නෑ, ඒ ඇයි. මහා බෝධිසත්ත්වයෝ සංසාරයේ වටුකුරුල්ලෙක් වෙලා සත්‍යක්‍රියා කරලා, ගින්නක් ඇවිළීගෙන එනකොට අම්මලා ඒ කුරුලු දෙමව්පියො ඔක්කොම දාලා ගියා, මේ

කුරුළු පැටවා විතරක් ඉතුරුවුනා. ඉතින් කුරුලු පැටවා සත්‍යක්‍රියාවක් කලා. සන්තිපත්තාපතනා, මට මේ තටු තියෙනවා, මට ඉගිලෙන්න බෑ, ඇයි චූටි කුරුලු පැටියෙක්. සන්තිපාදා අවංජනා, මට පාද තියෙනවා නමුත් මට යන්න බෑ. මාතා පිතාච නික්ඛන්තා, අම්මයි තාත්තයි මාව අතහැරලා ගියා ජාත වේද පටික්ඛම, මේ ගින්දර ඔස්සේ නවතීවා, ආපහු හැරී යත්වා, ගින්දර නවතීවා. ඉතින් මේක සිහිකලා විතරයි ඒ යම්කිසි ප්‍රමාණයක්, අක්කර ගාණක භූමි ප්‍රදේශයක ගින්දර නැවතුනා. අදටත් ඒ භූමියේ ගින්දර ඇවිලෙන් නෑ. තිරිසන් සතෙක් වෙලා ඉඳලා උන්වහන්සේ තුළ තිබුනු ශක්තිය. ඊළඟට අද අපි වැසි පිරිත විදියට කියන ඒ මච්ඡරාජ සූත්‍රය, එතකොට ඒ වැසි පිරිත විදියට කියන ඒ සූත්‍රයේ තියෙන්නෙ වැස්ස නැති කාලෙක මාළුවෙක් වෙලා ඉන්නවා පොකුණක. ඉතින් කපුටො ඇවිල්ලා ගොඩාක් මාළු කද්දි, මේ බෝසත් මාළුවා සත්‍යක්‍රියා කරනවා. උපන්දා සිට මම ප්‍රාණඝාතයක් කලේ නෑ, අනික් සත්තු කාලා නෑ, දියසෙවෙල කාලා තමයි ඉඳලා තියෙන්නෙ. ඒ සත්‍යානුභාවයෙන් මේ කපුටන්ගේ මේ මාළු නිධානය නැතිවෙලා වර්ෂාව පැමිණේවා කියලා, පොකුණු ගලාගෙන ගියා. අදටත් ඒ සත්‍යක්‍රියාව සිහි කරලා තමයි වැස්ස උපද්දවන්නේ. ඉන්දියාවේ අදටත් එක්තරා පොකුණක් ළඟ තියෙනවා, මැද කෙලින්ම අර ගැටි නැති සිදුරු විතරක් තියෙන උණ ගහක්. කලින් වඳුරෙක් වෙලා ඉද්දින් කරපු සත්‍යක්‍රියාව. පුදුම සහගතයි. මහා බෝධි සත්ත්වයෝ සංසාරයේ සත්‍යයේ පිහිටලා හිටපු බව, සත්‍යක්‍රියා කරපු බව, ජීවිතේ බොහෝ සත්‍යයක් තිබ්බ බවට සාක්ෂියි බුද්ධ කාලයේ තිබුනා. ඉතින් ඒ නිසා ඒ වාගේ මහා පාරමී ධර්මයො පුරාගෙන තමයි ලොව්තුරා සම්බුද්ධත්වයට පත්වෙන්නෙ. ඒ බුදුරජාණන් වහන්සේ දුටු දුටුවන්ට අමා මහ නිවන් සනසා දෙනවා. ඉතින් පින්වතුනි, ඒ මට්ටකුණ්ඩලී ආදී අය ඒ බුදුරජාණන් වහන්සේගේ රූපය දැකලා පැහැදිලානෙ දෙව්ලොව ගියෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේට එක පාරක් වන්දනා කරලානෙ අර මැරෙන්න හිටපු ආච්චි දෙව්ලොව ගියෙ. බලන්න ඒ අයට කරුණාව සලසන්න බුදුරජාණන් වහන්සේ කොච්චර දුර ඉඳලා වඩිනවද කියනවානම්, අකනිටා බ්‍රහ්ම ලෝකය දක්වා වඩින, බ්‍රහ්මයන්ට දහම් දෙසන, පාණ්ඩුකම්බල ශෛලාසනයේ වැඩ හිඳලා ලෝකයාට දහම් දෙසන ඊළඟට තිදසපුරේ ඉඳලා මනුස්ස ලෝකෙ සංකස්සපුරයට මැණික් හිණිමගෙන් වැඩිය බුදුරජාණන් වහන්සේ අර ආච්චිට, අර රොඩී කුලයේ ආච්චිට පිහිට සලසන්න එක පාරක් වන්දනා කරවන්න, රොඩී ගමට බුදුරජාණන් වහන්සේ වැඩම කලානෙ. කොයි තරම් කරුණාවක් මෛත්‍රියක් බුදුරජාණන් වහන්සේ තුළ

තිබ්බාද. ඒ නිසා පින්වතුනි, බුදුරජාණන් වහන්සේට එක වරක් ඇඟිලි එකතු කරගෙන වන්දනාවක් කරනවාද, හිත පැහැදෙනවාද, මේක නිවනට මූලික කාරණයක් වෙනවා කියලා සාරිපුත්ත මහරහතන් වහන්සේ වදාළා. සාරිපුත්ත මහරහතන් වහන්සේ ඔය බුදු ගුණ නොයෙක් ආකාරයෙන් විස්තර කරපු අර්ථකතාවක් තියෙනවා. ඒකට කියනවා නිද්දේශපාලිය කියලා. ඊළඟට සාරිපුත්ත මහරහතන් වහන්සේ අනේක බුදුගුණ කියපු සූත්‍ර දේශනා තියෙනවා. සම්පසාදනී දේශනා ඇතුළු සූත්‍ර දේශනා. එතකොට සාරිපුත්ත මහරහතන් වහන්සේ තමයි පින්වතුනි අපි මීට කලින් කිව්වා ප්‍රඥාවෙන් අග්‍රම උත්තමයා. බුදුරජාණන් වහන්සේ හැරුණුකොට ප්‍රඥාවෙන් අග්‍රතම උත්තමයා සාරිපුත්තයන් වහන්සේ. එතකොට සාරිපුත්ත මහරහතන් වහන්සේ තමයි පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ ගුණ වැඩිමනක්ම දේශනා කරලා තියෙන්නෙ. එතකොට සාරිපුත්ත මහරහතන් වහන්සේට පුලුවන් පින්වතුනි, කල්පයක් තිස්සේ වැටෙන වැස්සේ වැහිබිංදු ගාණ ප්‍රඥාවෙන් දකින්න පුලුවන්. පර්වත වලට මෙච්චර වැටුනා, ගංගාවලට මෙච්චර වැටුනා, මුහුදට මෙච්චර වැටුනා කියලා කල්පයක් තිස්සේ වැටෙන වැස්සේ වැහිබිංදු ගාන දකින්න පුළුවන් කියනවා සාරිපුත්තයන් වහන්සේට. සාරිපුත්තයන් වහන්සේ ගැන ධම්ම පදයේ විස්තරයක් තියෙනවා, සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා, මේ වර්ෂාවේ ජලබිඳු ගාණ අවසන් වෙන්න පුලුවන්, මහ මුහුදේ ජලය අවසන් වෙලා යන්න පුලුවන්, මහපොළොවේ පස් අවසන් වෙලා යන්න පුලුවන්, ඒ වුනාට සාරිපුත්තයන් වහන්සේගේ ප්‍රඥාව නම් අවසන් වෙන්නෑ කියලා. එච්චර ප්‍රඥාවක් තියෙන, එච්චර ඥාණයක් තියෙන, කල්පයක් තිස්සේ වැටෙන වැහිබිංඳු ගාණ දකින්න පුලුවන් සාරිපුත්තයන් වහන්සේ වදාළා මම මට නම් කෙසේ නම් බුදුරජාණන් වහන්සේගේ ගුණ කියා නිම කරන්නද කියලා. බුදුරජාණන් වහන්සේ නමකගේ ගුණ තවත් බුදුරජාණන් වහන්සේ නමක් දේශනා කලත් කල්පයක් පුරාවට, ඒ කල්පය ගෙවී යයි, බුදු ගුණ නම් කියලා අවසන් කරන්න බෑ. එච්චර අනන්ත අප්‍රමාණ ගුණ කඳක් තියෙනවා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ සිහිකරපු පමණින්, යක්ෂයෝ ඔහුව දාලා යනවා, ඔහුව අතැරලා යනවා. එච්චර සරණේ පිහිට තියෙනවා. බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, නුඹලාට යම්කිසි බයක් තැතිගැනීමක් ඇතිවුනු වෙලාවට බුදුරජාණන් වහන්සේ සිහිකරන්න. නැත්නම් ධර්මය සිහි කරන්න, නැත්නම් ආර්ය මහා සංඝරත්නය සිහි කරන්න කියලා. වැඩි කතා ඕන නෑ, දීඝවාපී මහා ස්තූපයේ පුරාණයේ හුණු පිරියම් කරද්දි, ඒ එක භික්ෂූන් වහන්සේ නමක් උඩ

හුණු පිරියම් කර කර ඉන්නකොට වැටිලා, සෑයේ රූටාගෙන වැටෙනවා, එතකොට අනිත් ස්වාමීන් වහන්සේලා ධජග්ගේ කියලා. ඒ කියන්නෙ ධජග්ග සූත්‍රයේ තමයි තියෙන්නෙ කරදරයක් වුනොත් බුදුරජාණන් වහන්සේ, ධර්මය, සංඝරත්නය සිහි කරන්න කියලා. එතකොට අර වැටෙන ස්වාමීන් වහන්සේත් මට ධජග්ගේ පිහිටයි කියලා සිහි කරනකොටම අර ස්තූපයෙන් ගල් දෙකක් ඇවිල්ලා අර ස්වාමීන් වහන්සේගේ පා දෙකේ හිරවුනා. එච්චර පිහිටක් තියෙනවා. ඒ නිසා අදට වුනත් මනුස්සයෙකුට මේ තියෙන උපද්‍රව වලින් ගැලවෙන්න තියෙන්නේම බුදුරජාණන් වහන්සේගේ සරණ. ඒ කාලයේ එක්තරා ගමක, පින්වතුනි එක උපාසකයෙක් බුදුරජාණන් වහන්සේ සරණ ගියා, ධර්මය සරණ ගියා, සංඝයා සරණ ගියා, තුණුරුවන් ගුණම තමයි සිහි කර කර ඉන්නෙ. ඉතින් ඈත ජනපදයක එතුමාගෙ හිතවතෙක් ඉන්නවා. ඒ හිතවතාගෙ ඇඟට පුරාණයේ මොකක්හරි කර්ම බලවේගයක් නිසා යක්ෂයෙක් ආරූඪ වෙලා ඉන්නෙ. පුදුම අමාරුවකින් ඉන්නෙ යක්ෂ ආවේශයකින්. ඊටපස්සෙ මේ මනුස්සයාට කොහොමහරි පණිවිඩයක් ලැබුනා අර උපාසක මහත්තයා මුණගැහෙන්න එන්න කියලා. ඒ උපාසක මහත්තයා මුණ ගැහෙන්න දැන් අරයා අමාරුවෙන් වත්තම් කරගෙන එනවා. ඇවිල්ලා ඒ ගමේ සීමාවට එනකොට අර යක්ෂයාට යන්න බෑ, ඊටපස්සෙ ඇඟෙන් අයින් වුනා. දැන් අර ගම ඇතුලට ඇතුල් වුන මනුස්සයාට පුදුම සනීපයක් සැපක් හිතාගන්න බෑ. ඊටපස්සෙ ගිහිල්ලා හිතමිත්‍රාදීන් එක්ක කතා බහ කරලා භෝජන අරගෙන ඔන්න දැන් ආපහු හවස ගෙදර යන්න එනවා. මෙයා එනකොට අර ගමේ සීමාවේ කළුපාට ඡායාවක් සක්මන් කර කර ඉන්නවා. ඊටපස්සෙ ඈත ඉඳලම ඇහුවා කවුද ඔය කියලා. ඊටපස්සෙ කිව්වා මං තොගේ ඇඟේ හිටපු යක්ෂයා. ඊටපස්සෙ කියනවා උඹ මොකද ඔතන. මම මේ උඹ එනකල් ඉන්නෙ. ඇයි මේ. උඹගෙ ඇඟත් එක්ක මං ජීවත් වෙන්නෙ. ඉතින් මේ ගමට ආවෙ නැත්තෙ මොකද. ඊටපස්සෙ කියනවා ඔය ගමේ ඉන්නවා කාල කියලා උපාසකයෙක්. ඒ උපාසකය බුදුරජාණන් වහන්සේ සරණ ගිහිල්ලා ඉන්නෙ, ධර්මය සරණ ගිහිල්ලා ඉන්නෙ, සංඝරත්නය සරණ ගිහිල්ලා ඉන්නෙ. ඉතිං ඊටපස්සෙ, එහෙම සරණ ගියොත් ඒ අය ඉන්න දිශාවටවත් අපිට යන්න බෑ කිව්වා. බලන්න පින්වතුනි මේක සත්‍ය සිදුවීමක්. ඊටපස්සෙ කොහොමද ඔවුන් සරණ ගියේ. ඔහු සරණ ගිහිල්ලා තියෙන්නෙ දිවි හිමියෙන් මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා, දිවිහිමියෙන් මම ධර්මය සරණ යනවා, දිවිහිමියෙන් මම සංඝයා සරණ යනවා කියලා සරණ ගිහිල්ලා. ඔහුගේ ඝෝෂාව

චාතුම්මහාරාජිකයටත් ඉහළට ගිහින් තියෙන්නෙ, අර අහවල් ගමේ කාල උපාසක තෙරුවන් සරණ ගියා කියලා. අපිට ඔහු ළඟට කිට්ටුවෙන්නවත් බෑ, එහෙම වුනොත් අපිට අච්චු ලැබෙයි කිව්වා. ඉතින් තවත් කෙනෙකුට සරණ ගියොත් එහෙම ආශිර්වාදයක් තියෙයිද ඇහුවා. එහෙම තමයි කිව්වා ආශිර්වාදය තියෙන්නෙ. අර යක්ෂයාගෙන්ම ඒක අහලා අර මනුස්සයා දිවිහිමියෙන් මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා, දිවි හිමියෙන් මම ශ්‍රී සද්ධර්මය සරණ යනවා, දිවිහිමියෙන් මම ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා සරණ ගියා. සරණ ගියා. ඒ සරණ යනකොටම අර ඒ මනුස්සයාව පෙළපු යක්ෂයා ගව් ගාණක් ඈතට විසිවෙලා ගියා. එදා ඉඳලා ආයෙ මරණ මොහොත දක්වාම ඒ යක්ෂයා ඒ ගමටවත් ඇවිල්ලා නෑ, කොහොමද බේරුණ බේරිල්ල. එතකොට අද කාලෙ මිනිස්සුන්ට යක්ෂ අමනුස්ස උවදුරු පීඩා වැඩි වැඩියෙන් එන්නෙ ඔවුන් තුල සරණ නැති නිසා. දැන් තේරෙනවද මේ කියන දේ. ඒ නිසා තිසරණයේ නැතිව බණ භාවනා කරගෙන ගියත් ඔහුගේ හිත අමනුෂ්‍යයෝ අල්ලනවා. අපිට කොච්චර මුණගැහිලා තියෙනවාද, මම සෝවාන් වෙලා, සකදාගාමී වෙලා, මම රහත් වෙලා කියලා මාර්ගඵල ගැන කියාගෙන ආපු අය අපිට මුණගැහිලා තියෙනවා දැන් අපි මේ යම් කාලයක් වෙනවානෙ මහණකමේ. ඒ වගේම තැනින් තැන අපිටත් ඇවිදින්න වෙලා තියෙනවා, ගම් නියම්ගම් වල යන්න සිද්ධ වෙලා තියෙනවා. අපිත් ආරණ්‍ය වල ඉඳලා තියෙනවා. එතකොට මේවත් එක්ක අපිට මුණගැහිලා තියෙනවා. ඊටපස්සෙ පස්සෙ බලාගෙන යනකොට මොනවාහරි විකාරයක්. එයාලා එක්කො භාවනා කරගෙන යනකොට හිත අල්ලලා. අමනුෂ්‍යයෙක් අල්ලලා. එක්කො සමහරවෙලාවට භාවනා කරගෙන යනකොට තිසරණය නැතිව වෙන දේවල්, ඒ භාවනා සමාධියට ඉක්මණට එකතු වෙනවා අමනුෂ්‍යයෙක්. එකතුවෙලා පෙරේත ලෝක පෙන්නනවා, ජේන්න සලස්වනවා. මොකද පෙරේත ලෝක ජේනවට වැඩිය මේක ඥාණයක් විදියට ප්‍රේත ලෝක දිව්‍ය ලෝක දකින ඥාණය උපද්දවන්න ක්‍රමයක් තියෙනවා. ඒ උපද්දවන ක්‍රමය තමයි තමාට අයහපත පිණිස පවතින්නැත්තෙ. ඒක කරන්නෙ හතරවෙනි ධ්‍යානයෙන්. හතරවෙනි ධ්‍යානය දක්වා හිත වඩලා තමයි දිව්‍යලෝක, ප්‍රේතලෝක දකින විදියට හිත නමන්න තියෙන්නෙ. හිත ඕන පැත්තකට හරවන්න පුලුවන්. පින්වතුනි සම භූමියක වටේට හොඳට මැටි දාලා, ලොකු වතුර පොකුණක් හදලා තිබ්බොත් එහෙම ඒක කොයි පැත්තෙන් කැඩුවත් ඕන පැත්තකට වතුර යනවා. ආන්න ඒ වගේ තමයි හතරවෙනි ධ්‍යානයට හිත වැඩුවට පස්සෙ එයාගෙ හිතෙන් දෙන

අරමුණට අනුව හිතෙන් දෙන නියෝගයට අනුව, හිතෙන් දෙන මෙහෙයුමට අනුව, හිත වැඩ කරනවා ඒ පැත්තට. එතකොට චුති උපත දකින්න, දිව්‍ය ලෝක, අපාය දකින විදියට හිත වඩනකොට හිත ඒ පැත්තට හැරෙනවා. ඒක භාවනාවෙන් කරන එකක්. ඊටපස්සෙ දැන් ඔන්න හතරමං හන්දියක කරත්තයක් තියෙනවා. ඒ රථයෙන් පුලුවන්, ඒ පාරවල් හතරෙ ඕන පැත්තකට යන්න පුලුවන්. මැද තියෙන්නෙ රථය. ආන්න ඒ වගේ තමයි හතරවෙනි ධ්‍යානයට හිත වැඩුවට පස්සෙ ඒ හතරවෙනි ධ්‍යානයෙන් පුලුවන් ඕන පැත්තකට හිත හරවන්න. එතකොට තිසරණය නැතිව බණ භාවනා කරගෙන යනකොට හිත යාන්තම් සමාධිමත් වෙනකොට එයාගෙ ඥාතීන් හෝ අමනුෂ්‍යයො හෝ ඔහුගේ හිත අල්ලනවා. ඇල්ලුවාට පස්සෙ හතරවෙනි ධ්‍යානයට පත්නොවී ධ්‍යාන සිතකට හිත පත්නොවී හිතේ යම් සමාධියක් තුලින්ම නොපෙනෙන දේවල් පේන්න ගන්නවා. ඒ පේන්න ගත්තට පස්සෙ එයා ඒවා කිය කියා යනවා. එයාගෙ මාර්ගය එතනින්ම වැහෙනවා. ඊටපස්සෙ එයා ප්‍රේත ලෝකයේ විස්තර ඊළඟට භූත ලෝකයේ විස්තර ඒවත් එක්ක හක්කලන් කර කර ඉන්නවා. එයාගෙ ගමන එතනින් වැහෙනවා. එතනින් එහාට දියුණු කරන්න බෑ. අනිත් එක ඒවට හිතේ ඇල්මක් ඇතිවුනු ගමන් ඒවට බැල්ම හෙලන අමනුෂ්‍යයන්ගෙන් ඒ ග්‍රහණය අත්හැරගන්නත් බෑ. ඊළඟ තමයි නොයෙක් මතවාද, යක්ෂයන්ගේ දේවල්, ඊළඟට මේ මහාවංශය වැරදියි, ඉතිහාසය වැරදියි, ඊළඟට බුදුරජාණන් වහන්සේ ඉපදුනේ දඹදිව නෙවෙයි, මේ ඔක්කෝම හිත් වලට දෙනවා. ඒ හිත් වලට දුන්නට පස්සෙ ඊට අනුව මෙයා වැඩ කරවනවා. මේවා ලේසි නෑ, ඊටපස්සෙ ඒ ග්‍රහණයට අහුවුනාට පස්සෙ ඔක්කෝම ටික එක රොත්තකටම ඒ ලෝකෙට යනවා. ඉතින් පින්වතුනි මේ සියලූම බාධක කම්කටොළු එන්නෙ තිසරණය නැති නිසාමයි. ඒ නිසා පින්වතුනි හොඳට මතක තියාගන්න මේ බුද්ධ ශාසනේ පිහිට පිළිසරණ හරියට ලබන්න නම් බුදුරජාණන් වහන්සේගේ සරණ ඕනමයි. ධර්මයේ සරණ ඕනමයි, ආර්ය මහා සංඝරත්නයේ සරණ ඕනමයි. නිතර හීනෙනුත් බුදු ගුණ කියවෙන විදියේ හිතක් හදාගන්න ඕන. පොඩ්ඩක් ඇඟ ගැස්සුනත් තුණුරුවන්ට භාරයි කියන තැනට හිත හදාගන්න ඕන. නිවසින් පිටවෙනකොටත් තුණුරුවන් සරණම හිතේ තියාගෙන පිටවෙන විදියට හිත හදාගන්න ඕන. ඔබ දන්නවාද බුදුරජාණන් වහන්සේ මහා දාමරික වූ ආලවක පවා දමනය කලා. දමනය කරලා ඒ ආලවකට භෝජනය සඳහා ලැබුණු පුංචි දරු සිඟිත්තා ආරක්ෂා කරපු විදියට දන්නවාද. බුදුරජාණන් වහන්සේ ඒ දරු සිඟිත්තා අතට අරන් වදාළා මේ

දරුවා බුදුරජාණන් වහන්සේට භාරයි. ආලවක යක්ෂය ඔබද සුවපත් වේවා. මේ දරුවාට සුවය ලැබේවා, දීර්ඝායුෂ ලැබේවා. මේ දරුවා ධර්මයට භාරයි, ආලවක ඔබද සුවපත් වේවා. මේ දරුවා ආර්ය මහා සංඝරත්නයට භාරයි. ආලවක යක්ෂය ඔබද සුවපත් වේවා. තුණුරුවන්ට භාර කරලා ආලවක යක්ෂයාට සෙත් පතලා තමයි හත්ථාලවක කුමාරයා රජතුමා ගාවට යැව්වෙ බුදුරජාණන් වහන්සේ. එහෙනම් අදටත් අපිට තියෙන්නෙ අපේ ජීවිතේ තුණුරුවන්ට පුදන එකයි, ලෝකයට මෛත්‍රී කරන එකයි. මෙ බලවේග කම්කටොළු වලින් යක්ෂයෙකුට භෝජන පිණිස ලැබුනු දරුවා බුදුරජාණන් වහන්සේ ඒ විදියට තමයි ඒ දරුවාට සෙත් ප්‍රාර්ථනා කලේ. ඉතින් ඒ නිසා හැම වෙලාවෙම බුදුරජාණන් වහන්සේගේ සරණ, ශ්‍රී සද්ධර්මයේ සරණ, ආර්ය මහා සංඝරත්නයේ සරණ තියාගන්න. ඒ සරණ තුළින්ම තමයි පින්වතුනි ගැලවිල්ලක් තියෙන්නෙ, මේ ඔක්කෝම මූලික පසුබිමමයි හදන්නෙ නිවන පිණිස. යේ කේචි බුද්ධං සරණං ගතං සේ නතේ ගමිස්සන්ති අපායං පහාය මානුසන්දියං දේව කායා පරිපූරෙස්සන්ති, යම් කිසි කෙනෙක් බුදුරජාණන් වහන්සේ සරණ ගියානම් එයා අපායට යන්නෑ. යම් කිසි කෙනෙක් බුදුරජාණන් වහන්සේ සරණ ගියානම් එයා අපායට යන්නෑ මේ මනුස්ස ශරීරය අතහැරපු ගමන්ම දෙවියන් අතරට යනවා. දැන් අද අපි කිව්වා නේද දෙවියන් අතරට යෑම පවා එතරම් අමාරු කාර්යයක් කියලා. එහෙනම් බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනා අනිවාර්යයෙන් දිව්‍යලෝකෙ යනවානම් එහෙනම් මෙච්චරම අමාරු, පින්වතුනි සීලයේ දෝෂ තිබිලා, සීලයේ දෝෂ තිබිලා සතර අපායට වැටිලා තියෙනවා. ඊළඟට සීලය හොඳට තිබිලා ඒත් සතර අපායට වැටිලත් තියෙනවා. ඒ කියන්නෙ සීලය හොඳට තිබිලා තිසරණය නැතිවීමෙන් සතර අපායට වැටිලා. හැබැයි තිසරණය බලවත් වෙලා සරණ ගිහිල්ලා තිබ්බ කෙනෙක්, ඒ සරණ මුල් කරගෙන සතර අපායට වැටෙන්නෑ. වෙන තැන්වල දෝෂ තිබුනට මේ තිසරණ සරණ කියන එක බලවත්ව තියෙන කෙනා ඒක මුල් කරගෙන දෙව්ලොව උපදිනවා. හේතුව බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනෙක්, ධර්මය සරණ ගිය කෙනෙක්, ආර්ය මහා සංඝරත්නය සරණ ගිය කෙනෙක් නිරයේ ගිනිදැල් වලින් දැවෙන්නෑ. ඒ තෙරුවන් සරණ ගිය කෙනාට තිරිසන් ලෝකෙ ඉපදිලා මේ අශුචි කන සත්තු අතරට වැටෙන්නෑ. බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනෙක් ප්‍රේතයන් අතර අශුචි මලමුත්‍රා කාලා ඉන්න විදියේ ජීවිතයක් හැදෙන්නෑ, හේතුව ඒ තිසරණය කියන එක එච්චරටම උත්තරීතරයි. ඒ තෙරුවන් සරණ ගිය කෙනාගෙ හිත හැමවෙලාවෙම ඉහළට තමයි වැඩ

කරන්නෙ. පහළට වැටෙන්නෑ. ඒක සිද්ධ වෙන්නෙම තිසරණයෙන්. තිසරණ සරණ ගිය කෙනාගෙ හිත හැමවෙලාවෙම උඩට වැඩ කරන්නෙ. අපි කියමු උදාහරණයක්, තෙල් පුරවපු කලයක් ගංගාවක් ඇතුලට ගිහිල්ලා කඩනවා. කඩනකොට අර කලේ කැඩිලා යනවා, අර තෙල් ටික කොහොමත්, ඇයි ඒ තෙලේ ස්වභාවය තමයි ඉහළට එන එක, වතුරෙන් ඉහළට එන එක තමයි තෙලේ ස්වභාවය. ආන්න ඒ වගේ තමයි තෙරුවන් සරණ ගිය හිතක ස්වභාවය හැම වෙලාවෙම උඩට යන්නෙ, ඉහළට යන්නෙ. ඒ නිසා එයා මහපාරෙ මැරුණත්, ඉස්පිරිතාලේ මැරුණත්, කොහේ මැරුණත් එයා මරණින් මත්තෙ දෙව්ලොව උපදින්නෙ. ඒක තමයි තෙරුවන් සරණ යෑමේ තියෙන වාසනාව. පින්වතුනි අතීතේ එක බුද්ධ ශාසනයක, එක පුතෙකුට මහණ වෙන්න ආස හිතිලා, ඒ පුතාට මහණ වෙන්න විදියක් නැතිව තෙරුවන් සරණම රැකගෙන ඉඳලා ඒ හේතු කරගෙන අපේ බුද්ධ ශාසනේ පැවිදි වෙනකොට බුද්ධං සරණං ගච්ඡාමි කියලා සරණ දෙනකොටම අර්හත්වයට පත්වුනා. කොයිතරම් යහපතක්ද කියලා බලන්න. ඒ නිසා බුදුරජාණන් වහන්සේ සරණ යන එක, ශ්‍රී සද්ධර්මය සරණ යන එක, ආර්ය මහා සංඝ රත්නය සරණ යන එක සුලුකොට හිතන්න එපා. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ අනන්ත අප්‍රමාණ ගුණ සමුදාය අහලා සිහි කරලා ඔබගේ හිතෙත් ඒ බුදුරජාණන් වහන්සේගේ සරණ, අපිට තියෙන එකම පිහිට බුදුරජාණන් වහන්සේ විතරයි. බුදුරජාණන් වහන්සේගේ ධර්මය විතරයි. මේ රහතන් වහන්සේලා විතරයි කියලා පිහිට හිතේ තියාගන්න. එතකොට ඔබත් තෙරුවන් සරණ ගිය ශ්‍රාවකයෙක් බවට ඔබටත් පත්වෙන්න පුලුවන්. ඉතින් ඒ සඳහා යම් උපකාරයක්, තවම මේ අපි මූලික පසුබිම, මේ සරණ යන එක එච්චර වටිනවා කියන හැඟීම ඔබට දෙන්නයි මෙච්චර මහන්සි වෙන්නෙ. ඊටපස්සෙ ඔබට ටික ටික බුදුරජාණන් වහන්සේගේ සසර ගමන, බුදුරජාණන් වහන්සේගේ ගුණ කඳ අපි ඊළඟ වැඩසටහන් වලින් ශ්‍රවණය කරගනිමු. ඉතින් ඒ නිසා ඔබ සියලු දෙනාට තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණ ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ බෝවත්ත, වීරපොකුණ, සරණ වැඩිහිටි නිවාසයේ පින්වත් කරුණාසීලී මෑණියන් ඇතුළු දරු පිරිස, රේණුකා ජයකොඩි මහත්මිය, වීරපොකුණේ ධම්මික මහත්මයා ඇතුළු ඒ සියලු දෙනා. රැස්වුනු අනන්ත අප්‍රමාණ පුණ්‍ය සම්භාරය මුල් කරගෙන අපි පින් අනුමෝදන් කරමු,

විශේෂයෙන් අපි සෙත් ප්‍රාර්ථනා කරමු මේ පින් බලයෙන් අපේ මව් රටටත් ලෝකයටත් ව්‍යසනයක් වුනු කොරෝනා වසංගතය මේ ලෝකෙන් දුරු වේවා, දුරු වේවා, දුරු වේවා. මනුෂ්‍ය වර්ගයාට සියලු යහපත රැකවරණය සැලසේවා කියලා මේ පින් බලයෙන් සෙත් ප්‍රාර්ථනා කරමු. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙලා මේ පින්වතුන් ඇතුලු සියලු දෙනා, මේ මව්රට, ඒ වගේම මනුෂ්‍ය වර්ගයා ආරක්ෂා කරත්වා. බුදුසසුනේ යහපතට දෙවියන් උපකාර කරත්වා. දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා කියලා පින් අනුමෝදන් කරමු. ඒ වගේම මියපරලොව ගිය මේ පින්වතුන් නමින්, ඔබ කවුරුත් නමින් මියගිය ඥාතීන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම පරම පූජනීය, ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි තෙරුවන් සරණ යනවා කියන මේ යශෝරාවය, මේ කීර්ති ඝෝෂාව, මේ පිළිසරණේ රාවය අපේ හිත්වල රැව්දුන්නේ ලොකු ස්වාමීන් වහන්සේ නිසාමයි. ලොකු ස්වාමීන් වහන්සේ හැර මෑත භාගයේ තිසරණ සරණ පලයල්ලා කියන මහා හඬ නඟපු තවත් කෙනෙක් නම් නෑ. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ වදාළා, යම්කිසි කෙනෙකුට අනුකම්පාව තියෙනවා නම් ආනන්ද ඒ අය සරණේ පිහිටන්න කියලා, ඒක ඒකාන්තයෙන්ම ලොකු ස්වාමීන් වහන්සේ කලා. උන්වහන්සේ හරි අනුකම්පාවෙන් මේ සියලූම සැදැහැවතුන්ට අනුකම්පාවෙන් උපකාර කරපු කෙනෙක්. උත්තරීතර උපකාර කරපු කෙනෙක්. ඒ උත්තමයන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම ස්වාමීන් වහන්සේලාට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ධර්මාබෝධය සැලසේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම කරුණාසීලී මෑණියන්ටත්, වීරපොකුණ සරණ වැඩිහිටි නිවාසයේ සිටින, ඒ වගේම දරු පිරිසට, ඒ වගේම රේණුකා ජයකොඩි මහත්මියට, වීරපොකුණේ ධම්මික මහත්මයාට ඇතුළු අද ධර්ම දානයට සහසම්බන්ධ වුන පින්වතුන් සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. ඔබ සියලු දෙනාගේම හදවත් තුළත් උතුම් තිසරණයේම පිහිටාවා. මේ බුදුසසුනේ පිහිට පිළිසරණ සැලසේවා. මේ දුක් විඳින සංසාරයෙන් නිදහස් වෙන්න ඒකාන්තයෙන්ම ඔබට මේ අද ධර්ම දානය දුන්නු පින ඒකාන්තයෙන්ම සැලසේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම මේ ධර්ම දානය සැලසූ සියලු දෙනාට ගෞතම බුද්ධ ශාසනයේ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න වාසනාව ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. එ වගේම අපගේ මව් දෙමව්පිය, ඥාති බන්ධුමිත්‍රාදීන් කාටත්, ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනියේ ලක්විරු ගුවන්විදුලියේ

දායකත්ව දේශනා පවත්වන, ඒ වගේම කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, ඔබ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වී කායික සුවයෙන් සුවපත් වේවා, මානසික සුවයෙන් සුවපත් වේවා, ලෙඩක් දුකක් කරදරයක් පීඩාවක් හිංසාවක් උපද්‍රවයක් නොවේවා. උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගැනීම පිණිසම, උතුම් තිසරණය සිත තුළ පිහිටාවා. අසිරිමත් සම්බුද්ධ සරණේ සැනසෙත්වා. ශ්‍රී සදහම් සරණේ සැනසෙත්වා. ආර්ය සඟරුවනේ සරණේ සැනසෙත්වා. ඔබ කාටත් බුදුසසුනේ පිහිට ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=Bc_x1R4Cyys&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=3

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අදත් අපි අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සමඟ තමයි එකතු වෙන්නෙ. එතකොට අපි මුලින්ම මතක් කලා නිර්වාණය කරා යන්න කැමති කෙනෙකුට මේ බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ලබාගන්න කැමැති කෙනෙකුට ඉස්සෙල්ලාම කළ යුතු දේ තමයි තෙරුවන් සරණ යන එක. තෙරුවන් සරණ යනවා කියන එක සුලු දෙයක් නෙවෙයි. පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකත්වයට කෙනෙක් පැමිණෙන්නේ තිසරණය තුලින්. ඒකනේ මහානාම ශාක්‍යයා අහන්නෙ බුදුරජාණන් වහන්සේගෙන් ස්වාමීනී උපාසක

උපාසකෝ භන්තේ උච්ඡති කිච්ඡා තනුක භන්තේ උපාසකෝති, උපාසකයෙක් වෙන්නෙ කොහොමද කියලා, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මහානාම මේ කරුණෙහිලා ඒ ශ්‍රාවකයා යම්කිසි කෙනෙක් බුද්ධං සරණං ගතෝහෝති, ධම්මං සරණං ගතෝහෝති, සංඝං සරණං ගතෝහෝති. බුදුරජාණන් වහන්සේගේ සරණට පැමිණෙනවා නම්, ධර්මයේ සරණට පැමිණෙනවා නම්, සංඝයා සරණට පැමිණෙනවා නම්, තෙරුවන් සරණ ගිය කෙනා තමයි උපාසකයෙක් බවට පත්වෙන්නෙ. එතකොට පඤ්චසීලය කියලා කියන්නෙ ඒ උපාසකයා හික්මවන වැඩපිළිවෙල. ඒ කියන්නෙ සරණට ඇතුල්වෙලා එයාට කරන්න තියෙන දේ ටික තමයි පඤ්චසීලය. එතකොට ඒ නිසා මේ තිසරණය කියන එකෙන් තමයි බුදුරජාණන් වහන්සේගේ භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා කියන සිව්වනක් පිරිස පැමිණෙන්නේ. ඒ සරණට පැමිණිලා මිසක්කා ඒතං සරණ මාගම්ම සබ්බ දුක්ඛා පමුච්ඡති, ඒ සරණට පැමිණිලා තමයි සියලු දුකෙන් නිදහස් වෙන්න තියෙන්නෙ. ඒ නිසා සියලු දුකෙන් නිදහස් වීමට ඔබට ලබාදෙන වරප්‍රසාදයක් තමයි මේ තිසරණ සරණ යැවීම. ඒ නිසා ඔබට ලැබුණු විශාල භාග්‍යයක් කොට සලකන්න මේ දහම් වැඩසටහන. ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ වසර හැත්තෑ එකක් ආයු වළඳා 2020 අප්‍රේල් මස දාසය වන දින මියපරලොව ගිය බොනිෆල් ක්ලේමන් පෙරේරා පියාණන්ට පින් අනුමෝදන් කරන්න, ප්‍රංශයේ වෙසෙන දූදරුවන් සහ ඥාති හිතමිත්‍රාදීන් විසින් තමයි අද දවසේ ධර්ම දායකත්වය දරන්නෙ. අවුරුදු හැත්තෑ එකක් ආයු වළඳා මේ අප්‍රේල් දාසය වෙනිදා මියගිය පියාණන්ට පින් අනුමෝදන් කිරීම මුල් කරගෙන. ඉතින් පින්වතුනි මේ කාරණාවේදී මා මුලින් මතක් කල ඒ බුද්ධ ශාසනයට ප්‍රවේශ වීම පිණිස මේ ශාසනයේ පිහිට පිළිසරණ ලබාගැනීම පිණිස පවතින තිසරණය ගැන දහම් දේශනා මාලාවට අනුග්‍රහ දක්වමින් මේ පින්වතුන් අප්‍රමාණ පිනක් රැස් කරගන්නවා. ඒ වගේම මියගිය ඥාතීන් වෙනුවෙන්ද බලවත් පුණ්‍යධර්මයක් සිහි කරලා ඒ ඇත්තන් වෙනුවෙන් සෙත් පැතුවා වෙනවා. ඉතින් ඒ ගැන හිතලා සන්තෝෂයට පත්වෙන්න. ඉතින් බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෝ හතරදෙනයි. භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා කියන සිව්වනක් පිරිස. එතකොට භික්ෂුවකට වෙනම භික්ෂු ධර්ම තියෙනවා. භික්ෂුණියකට භික්ෂුණී ධර්මය තියෙනවා. උපාසකයෙකුට උපාසක ධර්මය තියෙනවා. උපාසිකාවකට උපාසිකා ධර්මය තියෙනවා. එතකොට මහානාම සූත්‍රය අනුව උපාසකයෙක් බවට පත්වෙන්නේ

බුදුරජාණන් වහන්සේ සරණ ගියොත්, ධර්මය සරණ ගියොත්, සංඝයා සරණ ගියොත්. එතකොට ඒ තිසරණයට පැමිණුනාට පස්සෙ එයා වෙනත් ශාස්තෘවරුන් හොයන්නෑ. තමන්ගේ ජීවිතේට පිළිසරණ පිණිස වෙනත් කෙනෙක් හොයන්නෑ. එයාට ඉඳගෙන ඉන්නකොටත්, ඇවිදිනකොටත්, හිටගෙන ඉන්නකොටත්, හැම වෙලාවෙම බුදුරජාණන් වහන්සේමයි මතක් වෙන්නෙ. දැන් ඔන්න දේව භක්තිය තියෙන අයට, දැන් දේව භක්තිය තියෙන අය තිසරණය නෙවෙයි. ඒක අයිතියි ඒක මිත්‍යාදෘෂ්ටියට අයිති. එතකොට ඉන්දියාවේ ගත්තොත් එහෙම ඉන්දියාවේ දේව භක්තියෙන් යුතු හැම කෙනෙක්ම බය වුනත් ඒ භගවාන් කියලා දෙවියෝ සිහි කරනවා. එක්කෝ එයාලගේ නමක් මොකක්හරි දෙවි කෙනෙකුගේ නමක් කියනවා. ලෙඩක් එනකොට, කරදරයක් එනකොට ගමනක් යනකොට, හැමවෙලාවෙම ඒක සිහි කරනවා. ඒ දෙවියෝ සිහි කරනවා. නමුත් හැබැයි එයාලාගේ ඒ භක්තිය. ඒ භක්තිය එයාලා ඒකෙ කිඳා බැසගෙන ඒ දෘෂ්ටියෙ. එතකොට සාමාන්‍යයෙන් බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනා යනකොට, එනකොට, හිදිනකොට සිහි කරන්නෙ නැත්නම් බුදුරජාණන් වහන්සේ එයාගේ සරණ ගැන තියෙනවා ගැටළුවක්. මොකද එයාගෙ ජීවිතේ පිළිසරණ බව, සම්පූර්ණයෙන් ජීවිතයේ එයාට ආරක්ෂාව තමයි තිසරණය. දැන් මං දැක්කා මේ අටුවාවල තියෙනවා ඇයි මේකට සරණ යනවා කියලා කියන්නෙ. සරණ යනවා කියලා කියන්නෙ, සරණ යෑම කියන්නේම බිය නැතිකරගැනීම කියලා තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ ළඟට පැමිණ බිය නැතිකරගන්නවා. බුදුරජාණන් වහන්සේ සරණ ගියා. ධර්මය ළඟට පැමිණ බිය නැතිකරගන්නවා. ධර්මය සරණ ගියා. ආර්ය මහා සංඝරත්නය සිහි කරගෙන ඒ තුළට පැමිණ බිය නැතිකරගන්නවා ඒක තමයි සඟ සරණ. දැන් අපේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සියලු දේ අවබෝධ කල, සසරින් එතෙරට වැඩිය, කෙලෙස් නැසූ බුදුරජාණන් වහන්සේ, ලොව්තුරා අමාමෑණී තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේයි. ඒ බුදුරජාණන් වහන්සේව සරණ යනවා. ඒ සරණට පැමිණෙනවා. එතකොට එයාගෙ මුළු ජීවිතේම බුදුරජාණන් වහන්සේ හැර එයාට වෙනත් වටිනා කෙනෙක් නෑ. ධර්මය හැර වෙන වටිනා දෙයක් නෑ. එයාට ජීවිතේ තීරණ ගන්නකොට තවත් බලපෑමක් තියෙනවා එයා තුළ. ඒ තමයි ධර්මය. සතෙක් මරන්න හිතෙනවා. එයාට මරන්න හිතෙනකොට තවත් එක්කෙනෙක් ඇතුලෙන් කතා කරනවා. ඕක පව්, ඕක කරන්න එපා. අන්න එයාට තව එක්කෙනෙක් ඉන්නවා එයා තුළ. දැන් අපි ප්‍රාණඝාතයක් වෙනකොට,

හොරකමක් කරනකොට, වැරදි කාමසේවනය, බොරු, සුරාව ගන්නකොට එයාව බ්රේක් කරන්න ඇතුළෙ කෙනෙක් නැත්නම්, එයාට සරණක් නෑ. තවත් කෙනෙක් තුළට දෙවෙනියෙක් නෑ එයාට. ශ්‍රද්ධා දුතියෝ. බොහෝ දෙනාට, බොහෝ දෙනාට කියන්නෙ සියලු දෙනා තුල දෙවෙනියෙක් විදියට ඉන්නේ තෘෂ්ණාව. තෘෂ්ණාවෙන් මෙහෙයවනවා. බුදුරජාණන් වහන්සේ වදාළා, බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයාට එයාව පාලනය කරන්න බලවේගයක් දෙනවා, ඒ තමයි ශ්‍රද්ධාව. එතකොට එයාට බොන්න හිතෙනකොට ඇතුලෙන් එක්කෙනෙක් කියනවා, එපා. ඇතුලෙ එක්කෙනෙක් ඉන්නවා පින් පව් ගැන කියලා දෙන. ඊටපස්සේ මිත්‍යාදෘෂ්ටික දේවල් එනකොට, එක එක ඇදහීම් එනකොට ඇතුලෙන් එක්කෙනෙක් කියනවා, ඕක හරිද. ඊළඟට දෙවිවරු සරණ යනවා, දැන් උඹගේ මේ ප්‍රශ්නෙ ඉවරයිද. දැන් මම දැක්කා, අපි බිහිසුණු සසර වැඩසටහනේ, ඒ විස්තර බලාගෙන යනකොට පින්වතුනි ඔය ටීකාවල, මම හිතන විදියට නිමි ජාතකයේ ටීකා වල වෙන්න ඕන, ඒ ටීකාචාරීන් වහන්සේ නමක් හිටියා අත්ථදස්සී කියලා, මීට අවුරුදු හත්සීයකට කලින් උන්වහන්සේ නිරයේ වර්ණනාව කියලා පොතක් ලිව්වා. ඒ පොතේ එකම වෙනම නිරයක් විස්තර කරනවා, ඒ නිරයේ තියෙන්නෙ වෙනම දේව භූත කට්ටිය යන පිරිසක්. ඒ යන අපායක්. ඇයි ඒ? මොනවාහරි පොල්ගෙඩියක් ගහනවා, භූතයෙකුට කියනවා අපේ මෙහෙම කරදර, අහවලාගෙ බෙල්ල මිරිකන්න. සීනි අඹරනවා, මිරිස් අඹරනවා, පඬුරු ගැටගහනවා, කහ වතුරෙන් නානවා, පූජාවල් තියනවා, යන්ත්‍ර මන්ත්‍ර තන්ත්‍ර විද්‍යාවන් කරනවා, යාදිනි කරනවා, මිනිස්සුන්ට අයහපත පිණිස ලෝකෙ බලවේග ක්‍රියාත්මක කරවනවා මිනිස්සු, ඒ මිනිස්සු යන වෙනම අපායක් තියෙනවා. ඒ මිනිස්සුන්ගෙ වචනෙට වැඩ කරන අර දේවාලවල, ඒ ස්ථානවල ඉන්න භූතයෝ, ඒ යම් දේව කොටස් මොනවාහරි ඉන්නවා නම්, ඒ අය කය බිඳිලා මරණින් මත්තේ යන වෙනම අපායක් තියෙනවා. ඇයි මේ? සරණක් නෑ. දැන් අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ ඉන්නවා. එතකොට අපි දෙවි කෙනෙක් ගමු. අපි ගත්තොත් සතරවරම් දෙවියෝ, සක්දෙවිඳු, සෙන්පති දෙවිවරු, අපි ගත්තොත් සුමන සමන් දෙවියෝ, අපි ගත්තොත් එහෙම ඒ දෙවිවරුන්ටත් සරණක් තියෙනවා. සුමන සමන් දෙවියෝ අපි වඳිනවා වගේම බුදුරජාණන් වහන්සේට වැඳ වැඳ ඉන්නෙ. සක්දෙවිඳු ගත්තොත් එහෙම සක්දෙවිඳු බුදුරජාණන් වහන්සේටත් වැඳ වැඳ, සංඝයාටත් වැඳ වැඳ යේ ගහට්ඨා පුඤ්ඤකරා සීලවන්තා උපාසකා ධම්මේන ධාරං පෝසන්ති තේ නමස්සන්ති මාතලී, මාතලීට කියනවා සක්දෙවිඳු ගෘහපතිවරු ඉන්නවා තෙරුවන් සරණ

ගිහිල්ලා, අම්මාදරුවන් පෝෂණය කරගෙන ධාර්මිකව පින් කරමින් ඉන්න ගිහි අය, ඒ අයටත් සක්දෙව්දු වැඳ වැඳ ඉන්නෙ. එතකොට පින් කරලා, අම්මා දරුවො දැහැමින් පෝෂණය කරලා, තෙරුවන් සරණ ගිහිල්ලා සීලවන්තව ඉන්න උපාසකයාටත් සක්දෙව්දු වදිනවා, එතකොට උපාසකවරු දෙවියන්ට වැඳ වැඳ ඉන්න එකත්, ඒ දෙවියන්ට වැඳිය යුතුම කියලා එකක් නෑ. පින්පෙත් දීලා ඒ ඇත්තන්ට ඒ ඇත්තො ගුණධර්ම දියුණු කරලා දෙව්ලොව ඉපදුනේ. ඒකට ගරු කරනවා, පින් දෙනවා. සත්කාර සම්මාන කරනවා. නමුත් දෙවියෝ ඔහුටත් වදිනවා. දැන් කිසිම ලෝකෙක, කිසිම ආගමක, ශ්‍රාවකයෙකුට එයාලා අදහන දෙවිවරු වැඳිල්ලක් නෑ. මේ බුද්ධ ශාසනේ බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනාට දෙවියොත් වදින නිසා ඒ සරණ ගිය කෙනාට ආයෙත් දෙවියෙක් සරණ යන්න උවමනාවක් නෑ. පින්වතුනි බුදුරජාණන් වහන්සේ සරණ ගිය, ධර්මය සරණ ගිය, සංඝරත්නය සරණ ගිය දෙව්වරු දිව්‍ය ලෝකෙ සියලු දෙව්වරු අතර අභිබවා බබළනවා කියලා දේශනාවෙ තියෙනවා. සක්දෙව්දුත් - මං හිතන්නෙ මුගලන් මහරහතන් වහන්සේට කියන්නෙ - ස්වාමීනී, මේ දෙවියන් අතරින් යම්කිසි කෙනෙක් මනුස්ස ලෝකෙ ඉඳලා තෙරුවන් සරණ ගිහිල්ලා දෙවියන් අතර ඉපදිලා ඉන්නවා නම් ඒ දෙව්වරු අනිත් දෙව්වරු අතර බබළනවා, අනිත් දෙව්වරු මොන මොන පින්කම් කරලා තිබ්බත්. දානෙ ගොඩාක් දීලා දිව්‍ය ලෝකෙ යන අය ඉන්නවා. සිල් ගොඩාක් රැකලා දිව්‍යලෝකෙ යන අය ඉන්නවා. එතකොට මේ වාගේ එක එක යහපත් ක්‍රියාවල යෙදිලා දෙව්ලොව ගිය අය ඉන්නවා. ඒ සියලුම දෙව්වරු අතර යම්කිසි කෙනෙක් බුදුරජාණන් වහන්සේ සරණ ගියා නම්, ධර්මය සරණ ගියා නම්, සංඝයා සරණ ගියා නම් ඒ දෙව්වරුන්ම බබළනවා අර අනිත් සියලු දෙව්වරුන් අතර. වෙනමම පේනවා දෙවියන් අතරත්, මේ දෙවියා නම් තෙරුවන් සරණ ගිහිල්ලා කියලා. ඒ ආනුභාවය. තිසරණය. එච්චර විශේෂයි පින්වතුනි මේ තිසරණය. බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ බුදුරජාණන් වහන්සේම ධම්මචක්කපවත්තන දේශනාව වදාරළා, මේ බුද්ධ ශාසනයේ පළවෙනි ශ්‍රාවක පිරිස ඇතිවෙනවා, කොණ්ඩඤ්ඤ, වප්ප, භද්දිය, මහානාම, අස්සජි පස්වග භික්ෂූන් වහන්සේලා. ඊළඟට යසකුල පුත්‍රයාත්, විමල, සුබාහු, පුණ්ණජි, ගවම්පති කියන යාළුවනුත්, තව යාළුවන් පනස්දෙනායි, ඉතින් ඒ සියලු දෙනාම හැට නමක් මහරහතන් වහන්සේලා බුදුරජාණන් වහන්සේයි, ඒ හැට නමක් මහරහතන් වහන්සේලා, බුදුරජාණන් වහන්සේ චරථ භික්ඛවෙ චාරිකං බහු ජන හිතාය බහු ජන සුඛාය අත්තාහිතාය දේවමනුස්සානං ආදී වශයෙන් ධර්ම ප්‍රචාරයේ යෙදෙව්වා.

එතකොට බුදුරජාණන් වහන්සේ ළඟට දැන් පාරවල් හැටක වැඩපු ඒ රහතන් වහන්සේලා පැවිදි වෙන්න ආස කරන අය බුදුරජාණන් වහන්සේ ළඟට ආපහු ගෙන්නගෙන එනවා. එතකොට හිතන්න ඒ රහතන් වහන්සේලාගේ ස්වභාවය. දැන් ධර්ම ප්‍රචාරයේ වඩිනවා, කෙනෙක් මහණවෙන්න කැමති වෙනවා, ආයෙ බුදුරජාණන් වහන්සේ හොයාගෙන එනවා, මහණ කරනවා, ආයෙ යනවා, ආයෙ කෙනෙක් එනවා, ආයෙ බුදුරජාණන් වහන්සේ ළඟට එනවා, මහණ කරනවා, ආයෙ යනවා, පුදුම ධර්ම ප්‍රචාරයක් ඒක. හිතාගන්නවත් බෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, මේ විදියට මහණ වෙන කෙනා කෙනා ගානෙ භික්ෂුව මා ළඟට එන්න ගියොත් වෙහෙසක්. ඒ නිසා ඔබම ඒ අය මහණ කරන්න. ස්වාමීනී කොහොමද මහණ කරන්නෙ? කෙස් රැවුල් බාලා උක්කුටියෙන් ඉඳගෙන සිවුරු පොරවලා, එයා කියන්න ඕන, බුද්ධං සරණං ගච්ඡාමි, ධම්මං සරණං ගච්ඡාමි කියලා ගුරුවරයාගෙන් ඒ සරණ ගන්න ඕන. ඒ තිසරණය තුන් පාරක් ගත්තාට පස්සෙ එයාට මහණ උපසම්පදාව පිහිටනවා. එතකොට මුල් කාලයේ සිවුරු පොරවා ගත්ත ගුරුවරයෙක් යටතේ යම්කිසි කුලපුත්‍රයෙකුට බුද්ධං සරණං ගච්ඡාමි, ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි කියනකොට පැවිද්දත් පිහිටනවා, උපසම්පදාවත් පිහිටනවා. එතකොට මේ තිසරණයේ තියෙන වටිනාකම හිතන්න බලන්න. එතකොට ඊටපස්සෙ පස්සෙ කාලෙක මහණකම තෙරුවන් සරණ පිට කරන්න බුදුරජාණන් වහන්සේ පැනෙව්වා, උපසම්පදාව වෙනම කරන්න පැනෙව්වා. තව එකක් තියෙනවා. යම්කිසි භික්ෂුවක් උපසම්පදා හාමුදුරු නමක් කිව්වොත් එහෙම මට බුදුරජාණන් වහන්සේගෙන් වැඩක් නෑ, මං බුදුරජාණන් වහන්සේ ප්‍රතික්ෂේප කරනවා, මට ඒ සරණ වැඩක් නෑ කියලා. ඒ කියන්නෙ ඒ භික්ෂුව ඇත්තටම කිව්වොත් එහෙම ඒ භික්ෂුවගේ උපසම්පදාව නැතිවෙනවා. යම් භික්ෂුවක්, උපසම්පදා භික්ෂුවක් කිව්වොත්, මේ ධර්මයෙන් මට වැඩක් නෑ, මම ධර්මය, දහම් සරණ ප්‍රතික්ෂේප කරනවා කියලා ධර්මය ප්‍රතික්ෂේප කළොත් ඒ භික්ෂුවගේ උපසම්පදාව නැතිවෙනවා. යම්කිසි භික්ෂුවක් කිව්වොත් එහෙම මට මේ සංඝයා වැඩක් නෑ, මේ සංඝයාගේ සරණක් ඕන නෑ, මම සංඝයා ප්‍රතික්ෂේප කරනවා කියලා, එතකොට එයාගෙ සරණ නැතිවෙලා එයාගෙ උපසම්පදාව නැතිවෙනවා. මහණකම නැතිවෙනවා. එතකොට තිසරණය කියන එක කොච්චර බලවත්ද කියලා හිතන්න. උපසම්පදාවක් නැතිවෙනවා කියනකොට. ඊටපස්සෙ ඒ නිසා පින්වතුනි මේක සුලුදෙයක් නෙවෙයි. භික්ෂූන්ටත් ඒ වගේ. ගිහි අයටත් තියෙන්නෙ ඒකයි. ගිහි

අයත් තෙරුවන් සරණ ගියාට පස්සෙ වෙන වෙන අයගෙ සරණ දේවාල ගානෙ, එක එක භූතබීත ගානෙ යනවා නම් ඒ අයට කියන්නෙ උපාසක චණ්ඩාල කියලා. පෙනී ඉන්නවා උපාසකයෝ විදියට. නමුත් ඔවුහු චණ්ඩාලයෝ කියනවා. මේ ශාසනයෙන් පිට පුදන්න කෙනෙක් හොයනවා. ඒවා දිහා දකිනකොට මට පුදුම හිතුනෙ, මං කන්තලේ ඉන්න කාලෙ කන්තලේ වැව් බන්ට් එක හදන්න ඇවිල්ලා හිටපු ඉංජිනේරු මහත්තයෙක් හිටියා, දෙමළ. ටැමිල්. ඉතින් එයාලා ඒ පූජා ක්‍රම අනුව, දෙවියන්ට ලොකු මුරුතැන් දානයක්. ඒ වැව් බන්ට් එකේ වැඩ ඉවරවෙලා උයන ගමන් ඒ මහත්තයා අසපුවට ඇවිල්ලා මට කිව්වා ස්වාමීනී, පාත්‍රයක් දෙන්න. අසපුවට එනවා. ඊටපස්සෙ පාත්‍රයක් දෙන්න කියලා පාත්‍රය අරන් ගිහිල්ලා දෙවියන්ට පුදන්න කලින් අර ඉදුනු හැලියෙන් මුරුතැන් දානයේ අග්‍ර භාගය පාත්‍රයට ගෙනල්ලා බෝධීන් වහන්සේට පූජා කරලා ගිහිල්ලා තමයි දේව පූජාව තිබ්බෙ. මට පුදුම හිතුනා මෙයා ටැමිල් කෙනෙක් වෙලා බුදුරජාණන් වහන්සේ ගැන ශ්‍රද්ධාව පිහිටලා තියෙන විදිය. ඉතින් ඒ නිසා මේක පින්වතුනි මේක ඇගේ තියෙන්න ඕන මේ තිසරණය කියන එක. හිත ඇතුලෙ පැලපදියම් වෙලා තියෙන්න ඕන. නිකම් මේ වචන වලින් රවුම් කර කර කියන එකක් නෙවෙයි. ඊටපස්සෙ ඒ නිසා ඔබත් බලන්න, ඔබට යම්කිසි අග්‍ර දානයක් ලැබුනොත් එහි අග්‍ර කොටස ශාස්තෘන් වහන්සේට දෙන්න මතක් වෙනවාද? ගෙදරින් ගමනක් එළියට යනකොට, දරුවෙකුට ආශිර්වාද කරනකොට තෙරුවන් සරණ මතක් වෙනවද කියලා. එහෙම මතක් වෙනවා නම් ඔබට සරණ පිහිටලා. මේ බුද්ධ ශාසනයේ පිහිට ගන්න ලේසියි. එතකොට හොඳට මතක තියාගන්න බුද්දක නිකායේ මේ දහම් ප්‍රතිපදා පිළිවෙලට පුහුණු කරද්දි, වදාරද්දි ඉස්සෙල්ලාම වදාළේ තිසරණය ගැන. ඒ තෙරුවන් සරණ ගැන නිතර සිහි කරන්න කියලා වදාළා. ඒ නිසා තමයි ඡත්ත මානවකව බුදුරජාණන් වහන්සේ තිසරණයේ පිහිටවලා යන ගමන් සිහි කර කර යන්න කිව්වා තිසරණය. තෙරුවන් සරණ සමාදන් වුන කෙනා, සරණ ගිය කෙනා නිතර නිතර ඉන්න ඕන පින්වතුනි තිසරණය සිහි කර කර. එතකොට තමයි මේ නිර්වාණ ප්‍රතිපදාව වැඩෙන්නෙ. ඒක කොහොමද වැඩෙන්නේ කියලා, කියලා දෙන්නම්. කොහොමද මේ නිර්වාණ ප්‍රතිපදාව වැඩෙන්නේ කියලා. හැබැයි අවංකවම තෙරුවන් සරණ යන්න ඕන. දැන් මිනිස්සු මේ මහා ශ්‍රද්ධාවෙන් තෙරුවන් සරණ යනවා කියලා පෙන්නනවා. නමුත් ඇතුලේ බලනකොට නෑ. මහාසෑයට ගිහිල්ලා තමන්ගේ දුක් අඳෝනා ඔක්කෝම කියනවා. ඊටපස්සෙ එතනිනුත් ඒ මහාසෑයත් දේවාලයක් කරගන්නවා.

ඊටපස්සෙ අපි කියමු අපිට දැන් විසඳුමක් නැති නිසා මහාසෑයට අපේ දුක්ගැනවිල්ල කිව්වා. ඊටපස්සෙ විසඳුමක් එන්නෙ නෑ අපිට. එතකොට දහම් සරණ තියෙන කෙනා, කම්මං දල්හං චින්තිකරෝමිදානි, දැන් කර්මය දැඩි වූ කල මා කුමක් කරන්නද කියලා ඒත් ධර්මයම සිහි කරනවා. කර්මය දැඩියි, මා කුමක් කරන්නද. එතනත් සරණම සිහි කරනවා. නැත්නම් මොකද කරන්නෙ වරක් මහාසෑයට යනවා, දුක් ගැනවිල්ලක් කියනවා, විසඳුමක් නෑ. අනේ ඕවගෙන් වැඩක් නෑ. මොනවාහරි පිරිතක් කියනවා, දැන් පිරිත් කීමේ තියෙනවානේ, ශ්‍රද්ධාව බලවත්ව තියෙන්න ඕනනෙ පිරිතේ පිහිට ගන්න. විශ්වාසය තියෙන්න එපැයි. ඊළඟට ඒ පිරිත් කියන වෙලාවෙ නීවරණ වලින් යටනොවුනු හිතක් තියෙන්නෙ ඕන. කර්ම බලවේග වලින් වැහිච්ච නැති ස්වභාවයක් තියෙන්න ඕන. ඒකත් එක්ක තමයි පිරිතේ ආනුභාවය එන්නෙ. එතකොට උගුර වියළෙනකල් ඔහු පිරිත් කියන්න ඕන. ආරක්ෂාව ගන්න ඕන කියලා මළපුඩුව පිළිබඳව ප්‍රශ්නෙදි නාගසේන මහරහතන් වහන්සේ වදාළානෙ, මිලින්දප්‍රශ්නෙදි. ඉතින් කොහොමහරි ගිහිල්ලා කොහොමහරි අමාරුවෙන් තටමලා පිරිතක් කියලා එනවා. එතකොට කවුරුත් කියන නිසා කරන්නෙ, තමන්ටත් විශ්වාසයක් නෑ ලොකුවට. අපි කියමු ඕකෙන් තමන් බලාපොරොත්තු වුන දේ සිද්ධ වුනේ නෑ කියලා. වැඩක් නෑ ඕවා, ඔය පිරිත් කියලා වැඩක් නෑ. අපිත් ඕවා ඉස්සර කිව්වා. එතකොට කියනවා අංගුලිමාල පිරිත කොච්චර කිව්වත් හරියන්නෑ ස්වාමීන් වහන්ස. රතන සූත්‍රය කොච්චර කිව්වත් හරියන්නෑ ස්වාමීන් වහන්ස. රතන සූත්‍රය එයා කියන එක හරිගියේ නැතිවුනාට, ඒ රතන සූත්‍රයේ තියෙන ඒවා වැරදිද. යං කිංචි විත්තං ඉදවා හුරංවා සග්ගේසුවායං රතනං පණීතං නනෝ සමං අත්ථි තථාගතේන ඉදම්පි බුද්ධේ රතනං පණීතං ඒතේන සච්චේන සුවත්ථි හෝතු, යම්කිසි ධනයක් තියෙනවා නම් මෙලොව හෝ පරලොව, දිව්‍යලෝකෙ යම්කිසි මාණික්‍යයක් තියෙනවා නම් ඒ සියල්ලටම වඩා බුදුරජාණන් වහන්සේ නැමැති මාණික්‍යයම බබළනවා. වැරදිද ඒක? මේ බුදුරජාණන් වහන්සේ තුල පවතින සැබෑම ගුණයක්. රතනං පණීතං ඒතේන සච්චේන සුවත්ථි හෝතු, ඒක සත්‍යයයි ඔබට සෙත්වේවා, ඉතින් වැරදිද ඒක? ඊළඟට බලමු අපි ධර්මය ගැන, කයං විරාගං අමතං පණීතං යදජ්ජගා සක්‍යමුනී සමාහිතෝ, කෙලෙස් ක්ෂය කරන විරාගය ඇති කරන අමෘතය ලබාදෙන කයං විරාගං අමතං පණීතං, යදජ්ජගා සක්‍යමුනී සමාහිතෝ, ශාක්‍යය මුනීන්ද්‍රයන් වහන්සේ වදාළ යම් ධර්මයක් වේද, න තේන ධම්මේන සමත්ථි කිඤ්චි, ඒ ධර්මයට සමාන කළ හැකි වෙනත් දෙයක් ලෝකෙ

නෑ. ඉදම්පි ධම්මේ රතනං පණීතං, මේක තමයි ධර්මයේ තියෙන වටිනාකම. ඒක සත්‍යයක්. සැබෑ බසින් මෙම සෙත සැලසේවා. වැරදිද? තමන්ගෙ වැඩේ හරිගියෙ නැතිවුනාට. සංඝයා ගැන ගමු, යේ පුග්ගලා අට්ඨසතං පසන්නා චත්තාරි ඒතානි යුගානි හොන්ති තේ දක්ඛිණෙය්‍යා සුගතස්ස ශාවකා ඒතේසු දින්නානි මහප්ඵලානි ඉදම්පි සංඝෙ රතනං පණීතං ඒතේන සච්චේන සුවත්ථි හෝතු. යේ පුග්ගලා අට්ඨසතං පසන්නා, මේ බුද්ධ ශාසනයේ ඉන්නවා සෝතාපන්න මාර්ගඵල, සකදාගාමී මාර්ගඵල, අනාගාමී මාර්ගඵල, අර්හත් මාර්ගඵල ආදී වශයෙන් පුරුෂ පුද්ගලයො අට දෙනෙක්. මේ උත්තමයන් වහන්සේලාට යම්කිසි දෙයක් පූජා කලොත් මහත්ඵලයි මහානිසංසයි. රහතන් වහන්සේලාට යමක් පූජා කළොත් මහත්ඵලයි මහානිසංසයි. ඒක සත්‍යයයි ඒ සැබෑ බසින් මෙම සෙත සැලසේවා. වැරදිද?ඕකට මිනිස්සු කියන්නෙ මොකක්ද. පිරිත් කිව්වා වැඩක් නෑ. දැක්කද සරණ නැති හැටි. ඇයි සරණ නැත්තෙ? දන්නෑ ඒ ධර්මය මොකක්ද කියලා දන්නෑ. කර්මය දැඩි වුනාට පස්සෙ දන්නෑ. දේවදත්ත කරපු පාපකර්මෙ එනකොට දේවදත්ත මෝර පිරිත කෝටි වතාවක් කිව්වත්, දේවදත්තගේ මාරකය නැතිවෙයිද, කර්ම බලවේගය එච්චර බලවත් නිසා. ලේසි නෑ අපි කියමුකො කෝකාලික. පිරිත් කිය කියා පිරිත් පැන් වලින් නෑවත් ඇගේ ගෙඩි නැතිවෙයිද. ඒකයි, හේතුව කර්මය දැඩියි. ඒකයි නාගසේන මහරහතන් වහන්සේ දේශනා කරන්න පිරිතේ ආනිසංසය ගන්නත්, කර්ම බලයකින් වැහෙන එක නැතිවෙන්න ඕන පිරිත සජ්ඣායනා කරද්දි. මං කිව්වෙ උපාසකයන් විදියට පෙනී ඉන්නවා, නමුත් තමන්ම දන්නැතිව සරණට කිළිටි වෙනවා. එතකොට දැන් මං බැලුවා කොහෙද අනුරාධපුරේ ගියත්, රුවන්වැලිසෑය වැන්දත් මේ වදින අය අතරෙ ඉන්නවානෙ වෙනම පිරිසක් දෙමළ වාගේ නළලෙ පොට්ටු තියාගෙන ඉන්න පිරිසක්. කොහෙන් මතුවුනාද දන්නෑ. එතකොට කොහේද ගියේ කියලා හොයාගන්න බෑ. ඊළඟට මේ කිරිවෙහෙර වදිනවා නළලේ පොට්ටුව තියනවා. කවුරු වදිනවද දන්නෑ. එතකොට ඒ නිසා බුදුරජාණන් වහන්සේ සරණ ගියාට පස්සෙ ආයෙ පොට්ටුවකින් පුරවන්න අඩුවක් නෑ. තිසරණයේ සරණ ගියාට පස්සෙ එයාගෙ ජීවිතේට ආයෙ යන්තරේකින් පුරවන්න අඩුවක් නෑ. ඒ නිසා මේ සෑම දෙයක් පිටිපස්සේම තිසරණයේ දුර්වලතාවය පෙන්නුම් කරනවා. මේ මිනිස්සු බණක් අහලා මහණ වෙන්න ආවත් එක්කො නිවන් දකින්න හිතුවත්, බණ භාවනා කරන්න හිතුවත් සමහර වෙලාවට ඒක කරන්නෙත් දුර්වල වූ ශ්‍රද්ධාවකින්. ඒ නිසා තිසරණය බලවත්ව පිහිටලා නැති නිසා, චංචල නිසා එයාලා එක එක බලවේග වලට

අහුවෙනවා. ඉතින් ඒ නිසා මතක තියාගන්න මං කීවේ ඒකයි. රතන සූත්‍රය ගැන වුනත් ඒ ආනුභාවය පිළිබඳව හිතට දැනෙන්න ඒකෙ අර්ථය දැනගන්න ඕන. තිසරණය ගැන වුනත් බලවත්ව ඒ තිසරණයේ පිහිටන්න තිසරණයේ අර්ථ දැනගන්න ඕන. ඒ නිසා බුදුරජාණන් වහන්සේ බලවත්ව සරණ යන්න බුදුරජාණන් වහන්සේගේ ජීවිතය ගැන තේරුම් ගන්න ඕන. ඒකයි අපි උත්සාහ කරන්නෙ ටික ටික මේ දහම් මාලාවෙන් බුදුරජාණන් වහන්සේගේ ජීවිතය ගැන කියලා දෙන්න. තවම පසුබිම මේ කියලා දෙන්නෙ පින්වත්නි. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ගැන ඉගෙන ගත්තොත් පුදුම හිතෙනවා අපිට මේ වාගේ ශාස්තෘන් වහන්සේ නමක් සරණ යන්න ලැබුනානෙ කියලා. මේ ලෝකයේ කිසිම ශ්‍රාවකයෙක් මේ ලෝකෙ කිසිම ශාස්තෘන් වහන්සේ නමක්, කිසිම දෙවියෙක්, කිසිම බ්‍රහ්මයෙක් මේ විදියට නම් ගුණ පුරලා නෑ. මේ ලෝකෙ කිසිම දෙවියෙක්, බ්‍රහ්මයෙක්, කිසිම ආගමික නායකයෙක් ගැන මෙච්චර විස්තර කියන්න නෑ පින්වත්නි, අපේ බුදුරජාණන් වහන්සේ තරම්, පිරූ ගුණ කඳ. ඉතින් පින්වතුනි බුදුරජාණන් වහන්සේ නමක් පහළ වීමෙන් තමයි ශ්‍රී සද්ධර්මය පහළ වෙන්නෙ. ඒ බුදුරජාණන් වහන්සේ දේශනා කරන ධර්මය. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී සද්ධර්මය නිසා තමයි සංඝයා පහළ වෙන්නෙ. මතක තියාගන්න මේ ලෝකෙ කෝටි ගණන් රහතන් වහන්සේලා ඉන්න පුලුවන්. නමුත් ඒ සියලු රහතන් වහන්සේලා බිහිවෙන්නෙ බුදුරජාණන් වහන්සේගේ ධර්මයෙන්. ඒ නිසා තමයි ඒ ධර්මය බුදුරජාණන් වහන්සේගේ හද මඬලෙන් පැන නැගෙන්නෙ. ඒ නිසා තමයි මේ බුද්ධ ශාසනයේ රහත් වුන රහතන් වහන්සේලාට භගවතෝ අවුරසපුත්‍රෝ, බුදුරජාණන් වහන්සේගේ ඕරස පුත්‍ර, හදමඬලෙන් උපන් දරුවෝ කියලා කියන්නෙ ඒකයි. සෑම මාර්ගඵල ලාභියෙක්ම බිහිවෙන්නේ බුදුරජාණන් වහන්සේගේ වචනය නිසාමයි. ඒක තමයි සත්‍යය. ඒ නිසා මේ ලෝකෙ යම්කිසි කෙනෙක් සැනසුනාද, මාර්ගඵල ලැබුවාද, නිවන් දැක්කාද ඒ සියලු දෙනා බුදුරජාණන් වහන්සේ නිසයි ඒක කරගන්නෙ. ඒ නිසා හොඳට මතක තියාගන්න ඕන. දැන් සමහර අය ඉන්නවා මාර්ගඵල අවබෝධ වුනා වගේ කතා කරනවා. නමුත් එයාලා කියන්නෙ අපි තනියෙන්, මං මේක තනියෙන් කරගත්තෙ. මං තනියෙන් කරගත්තේ කියලා. දැන් බලන්න මේක තනියෙන් කරගන්න පුලුවන්ද කියලා. මේ තිසරණය ගැන බුද්දක නිකා අට්ඨ කතාවේ විස්තර කරන උපමා ටික, මේක හොඳට තේරුම් ගන්න, මේක හොඳ අනුස්සතියක් ඔබට. මේකෙ තියෙනවා බුදුරජාණන් වහන්සේ පුන්සඳ මඬල වගේ. ඒ සඳෙන් විහිදෙන රැස ශ්‍රී සද්ධර්මය වගේ.

ඊළඟට ඒ සංඝයා පුන්සඳ කිරණින් උපදවන ලද ප්‍රීතිය ඇති ලෝකයා වැනියි. සඳ කිරණින් සතුටු වෙන ලෝකයක් වගේ සංඝයා. ඊළඟට තියෙනවා බුදුරජාණන් වහන්සේ ළහිරු මඩල වගේ. ඒ හිරුගෙන් විහිදෙන රශ්මිය ශ්‍රී සද්ධර්මය වගේ. සංඝයා ඒ රශ්මි ජාලාවෙන් පහ වූ අන්ධකාරය ඇති ලෝකය වගේ. අඳුර පහවෙන්නෙ බුදුරජාණන් වහන්සේ නිසා. ඒ රශ්මිය නිසා. බුදුරජාණන් වහන්සේ වනයේ දවන පුරුෂයෙක් වගේ. කෙලෙස් දවන වනය දවන ධර්මය, වනය දවන ගින්න වගේ. ඊටපස්සෙ දැවූ ඒ කෙලෙස් වනය ගිනිගෙන තියෙන භූමිය, ගිනිගෙන ඉවරයි ඒ භූමිය. දැවෙන්න ආයෙ දෙයක් නෑ. ආන්න ඒ භූමිය වගේ සංඝයා කියනවා. ආයෙ පුච්චන්න කෙලෙස් නෑ. හැබැයි කෙලෙස් පිච්චුවෙ ගින්නෙන්. ඒ ගින්න දැල්වූවේ පුරුෂයෙක්. බුදුරජාණන් වහන්සේගේ ධර්මය නිසා ශ්‍රාවකයො කෙළෙස් නැසුවා. ඊටපස්සෙ තියෙනවා බුදුරජාණන් වහන්සේ මහා මේඝයක් වාගේ. මහා වළාකුලක්. ධර්මය වැසි ජලය වගේ. සංසිඳුණු කෙලෙස් ඇති සංඝයා වැසි වැටීමෙන් සංසිඳුණු දූලි ඇති ජනපදය වගේ. ජනපදයක් තියෙනවා දූවිලි වැහිලා. වැස්සක් ඇවිල්ලා දූවිලි නැතිවෙලා සංසිඳිලා යනවා. ඒ වැස්ස ආවෙ වළාකුලෙන්. වළාකුළ බුදුරජාණන් වහන්සේ වගේ. වැස්ස ධර්මය වගේ. සැනසුනු භූමිය සංඝයා වගේ. බුදුරජාණන් වහන්සේ නැතිව, ධර්මය නැතිව නිවන් දකින්න පුලුවන්ද කියලා දැන් හිතන්නකො. බුදුරජාණන් වහන්සේට පහදින් නැතිව, ධර්මයට පහදින් නැතිව, ඒ ආර්ය ශ්‍රාවක පරපුරට එකතු වෙන්න පුලුවන්ද කියලා බලන්නකො. බුදුරජාණන් වහන්සේ යහපත් රියදුරෙක් වගේ. ඒ කියන්නෙ අශ්වයො දමනය කරන කෙනෙක් වගේ. ඒ දමනය කරන්න ගන්න උපාය මාර්ගය වගේ ශ්‍රී සද්ධර්මය. දමනය වුනු අශ්වයෝ වගේ තමයි ශ්‍රාවක සංඝයා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ සියලු උල් උදුරන ශල්‍ය වෛද්‍යවරයෙක් වගේ. ඒ උල් උදුරන්ට පාවිච්චි කරන උපක්‍රමය ශ්‍රී සද්ධර්මය වගේ. ඒ උල් ගලවාගෙන නිරෝගී වුනු අය වාගේ තමයි සංඝයා. ඊළඟට තියෙනවා මෝහ පටලය උපුටා දමන බුදුරජාණන් වහන්සේ ශල්‍ය වෛද්‍යවරයෙක් වගේ. උපුටා දැමූ පටලය, ඒ උපුටා දමන්න පාවිච්චි කරන උපක්‍රමය වගේ ධර්මය. ඒ මෝහ පටලය උදුරා දැමූ පිරිස ඒ ශ්‍රාවක සංඝ රත්නය. ඊළඟට තියෙනවා බුදුරජාණන් වහන්සේ අනුසය සහිත කෙලෙස් රෝග දුරු කිරීමට සමත් දක්ෂ වෛද්‍යවරයෙක් වගේ. ඒ රෝග සංසිඳුවන්නට ගන්න බෙහෙතක් වගේ තමයි ශ්‍රී සද්ධර්මය. ඊටපස්සෙ රෝග සංසිඳුවාගත්ත අය වාගේ තමයි ආර්ය මහා සංඝරත්නය. මේ බලන්න ඒ කාලේ තුණුරුවන්ට උපමා කිය කියා ගරු කරපු හැටි. හැබැයි හැමතැනකම ප්‍රශංසාව

තථාගතයන් වහන්සේටම ලැබෙනවා. බුදුරජාණන් වහන්සේ මාර්ග උපදේශකයෙක් වගේ. ශ්‍රී සද්ධර්මය ක්ෂේම භූමිය වගේ. එතකොට ඒ උපදේශ අරගෙන ඒ ක්ෂේම භූමියට යන පිරිස වගේ තමයි ආර්ය මහා සංඝරත්නය, ක්ෂේම භූමියට පැමිණුන. බුදුරජාණන් වහන්සේ නාවිකයෙක් වගේ. ධර්මය නැවක් වගේ. ඒ නැවෙන් එතෙර වුන පිරිස සංඝයා වගේ. දැන් කියන්න බුදුරජාණන් වහන්සේ නැතිව ධර්මය නැතිව මාර්ගඵල ලාභීන් කොහොමද බිහිවෙන්නෙ. බුදුරජාණන් වහන්සේ හිමාල පර්වතය වගේ. ශ්‍රී සද්ධර්මය පර්වතයේ තියෙන බෙහෙත් වගේ. ඒ බෙහෙත් වළඳලා සුව වෙච්ච අය වගේ තමයි ආර්ය මහා සංඝරත්නය. බුදුරජාණන් වහන්සේ ධනය දෙන්නෙක් වගේ, ධනය දන් දෙන අය. ධර්මය ධනය වගේ. ඒ ධනය ලබාගෙන සුඛිත මුදිත වුනු පිරිස වගේ තමයි ශ්‍රාවක සංඝරත්නය. බුදුරජාණන් වහන්සේ නිධානය පෙන්වන කෙනා වගේ. ධර්මය නිධානය වගේ. ඒ නිධානය ගත්තු අය වගේ තමයි ශ්‍රාවක සංඝරත්නය. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ධෛර්යමත් පුරුෂයෙක් වගේ. ධර්මය අභය වගේ. ඒ ධෛර්යමත් අභය දෙන පුරුෂයාගෙන් අභය අරගෙන නිර්භයව ඉන්න පිරිස වගේ ශ්‍රාවක සංඝයා. බුදුරජාණන් වහන්සේ සැනසිලිදායකයාණන් වහන්සේ, සැනසිල්ල දෙන කෙනා. ධර්මය තමයි සැනසිල්ල. ඒ සැනසිල්ල ගත්ත අය තමයි ශ්‍රාවක සංඝයා. බුදුරජාණන් වහන්සේ යහපත් මිත්‍රයෙක් වගේ. ධර්මය හිතෝපදේශයක් වගේ. ඒ යහපත පිණිස පවතින අවවාද පිළිපදින, පිළිපැදලා යහපත් සැනසුන අය වගේ ශ්‍රාවක සංඝයා. බුදුරජාණන් වහන්සේ ධනාකරයක් වගේ, ධනය තියෙන ආකරයක් වගේ. ශ්‍රී සද්ධර්මය එහි ධනය වගේ. ඒ ධනය ගත්ත අය වගේ තමයි ශ්‍රාවක සංඝයා. බුදුරජාණන් වහන්සේ තමයි රාජ කුමරුවරුන්ට ඔටුනු පළඳවලා, නාවලා, ඔටුනු පළන්දන කෙනා වගේ. ඒ ධර්මය තමයි ඒ නාවන දේවල්, ඔටුනු ආදී ආභරණ. ඒ සියල්ලගෙන් සැරසුණු අය වාගේ තමයි ශ්‍රාවක සංඝයා. බුදුරජාණන් වහන්සේ අලංකාර කරන කෙනෙක් වගේ. ඒ ධර්මය තමයි අලංකාර කරන දේවල්. ඒ අලංකාරයෙන් සැරසුණු අය වගේ තමයි ශ්‍රාවක සංඝයා. ඊටපස්සෙ තියෙනවා බුදුරජාණන් වහන්සේ සඳුන් රුකක් වගේ. ඒ ධර්මය ඒ සඳුන් රුකේ හටගත් සුවඳ වගේ. සද්ධර්මය පිළිපැදීමෙන් සන්සිඳුනු, පරිලාහ ඇති සංඝයා සඳුන් පරිභෝග කරපු ශාන්ත පරිලාහ සංසිඳුවාගත්තු පිරිස වගේ. බුදුරජාණන් වහන්සේ ධර්මය දායාදය දෙන කෙනා. ඒ ධර්මය දායාදය වගේ. ශ්‍රාවකයන් වහන්සේලා ඒ දායාදය ගත්තු අය. බුදුරජාණන් වහන්සේ විකසිත පියුමක් වගේ. ශ්‍රී සද්ධර්මය පියුමේ රොන් වගේ. ශ්‍රාවක

සංඝයා ඒ රොන් වලින් මී බිඳු උරාගත්තු බඹරු වගේ. මේ විදියට අනේක උපමා. බුදුරජාණන් වහන්සේ හිරු මඩල වගේ. ඒ ශ්‍රී සද්ධර්මය පින්වතුනි හිරු රශ්මිය වගේ. ඒ හිරු රශ්මියෙන් විකසිත වන නෙළුමක් වගේ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක සංඝ රත්නය. මේ ලෝකයේ ශ්‍රාවකයෝ සංසාරයේ කොයිතරම් පුණ්‍ය සංස්කාර පුරා තිබුනත් ඒ සියලු දෙනාගේ ජීවිත මෝරා ගිය නෙළුම් වගේ. කවදාවත් පිපෙන්නෑ, හිරු කිරණ වැටෙන්නැතිව. හිරු කිරණ එන්නෙ හිරුගෙන්. බුදුරජාණන් වහන්සේගේ බණ පදයක් අහලාමයි මේ ලෝකයේ රහතන් වහන්සේලා පහළ වෙන්නෙ. ඒ නිසා රත්නත්‍රය කෙරෙහි, ඒ උතුම් තුණුරුවන් කෙරෙහි උපරිම ප්‍රසාදයට පත්වෙන්න. ගොඩාක් ගුණ හිතන්න. තුණුරුවන් සරණම හිතට ගන්න. බුදු ගුණම හිතන්න. නවඅරහාදී බුදුගුණ හිතන්න. මාගේ බුදුරජාණන් වහන්සේ අරහං වන සේක. සම්මා සම්බුද්ධ වන සේක. විජ්ජාචරණ සම්පන්න වන සේක. සුගත වන සේක. ලෝකවිදූ වන සේක. අනුත්තර පුරිසදම්මසාරථී වන සේක. සත්තාදේව මනුස්සානං වන සේක. බුද්ධ වන සේක. භගවා වන සේක. නව අරහාදී බුදුගුණ හිතන්න ඕන. ඒ බුදුගුණ ඒ සිදුවෙච්ච සිදුවීම් එක්ක හිතන්න ඕන. දැන් අපි කියනවා මෙයා හරියට තරහ යනවා මෙයාට. මෙයාට හරියට තරහා යනවා කියලා අපි හිතන්නෙ එයා තරහා ගිහිල්ලා බැනපු අවස්ථාවක් එක්ක. මෙයා හරියට ලෝභයි කියනවා අපි. ඒ මෙයා හරියට ලෝභයි කියන්නෙ එයා ලෝභ කරපු සිද්ධියක් එක්ක. දැන් අපිට කවුරුහරි කිව්වට පස්සෙ මෙයාට හරියට තරහ යනවා කියලා, ඊටපස්සෙ මෙයා ලෝභයි කිව්වට අපි දන්නෙ නෑ හරියට. කිව්ව නිසා පිළිගත්ත මිසක් අපි දන්නෑ. අපේ හිතටම කිදා බහින්න නම් අනිවාර්යයෙන් අපි දැනගන්න ඕන මෙයාගෙ තරහා ගිය වෙලා, තරහ ගිය අවස්ථා, ලෝභ අවස්ථා. ඊළඟට මෙයා හරි නරක කෙනෙක්. එතකොට මෙයාගෙ නරකකම් අපි දැනගන්න ඕන. එතකොට තමයි හිතට වදින්නෙ. පස්සෙ ඉතින් කොච්චර මොන මොන දේවල් කිව්වත් අපිට අර දැක්ක දේවල් තියෙන නිසා අපේ හිතේ බැහැගත්තෙ කවුරුත් කිව්වට වැඩිය දැක්ක දේවල් ටික, හිතපු දේවල්, දැක්ක සිද්ධිත් එක්ක. එතකොට වෙන අය මොනවා කිව්වත් අපි හිතනවා මෙයා එහෙම කිව්වට අපි දැක්කනෙ මේවා කියලා. ආන්න ඒ වගේ - ඕක හිතේ ස්වභාවය - ඒ වගේ බුදුරජාණන් වහන්සේ අරහං කියනකොට, ඒ අරහං කියන්නෙ නිකෙලෙස්නෙ, රාග දෝෂ මෝහ ප්‍රහාණය කලානෙ. ඒවා සිද්ධිත් එක්ක හිතන්න ඕන. එතකොට හොඳට බුද්ධානුස්සතිය හිතේ වැඩෙනවා. සම්මා සම්බුද්ධයි කියනකොට මේ ලෝකෙ කිසිවෙක් අවබෝධ

නොකරගත්ත ධර්මය අවබෝධ කරගත්තා කියනකොට සිද්ධිත් එක්ක හිතන්න ඕන. එතකොට හොඳට බුද්ධානුස්සතිය සරණ හිතේ පිහිටනවා. බුදුරජාණන් වහන්සේ විජ්ජාචරණ සම්පන්නයි කියනකොට උන්වහන්සේගේ ඥාණය චරණ ගුණය සිද්ධිත් එක්ක හිතන්න ඕන. හොඳට පිහිටනවා. එතකොට වෙන අය මොනවා කිව්වත් හිත යන්නෑ ඒ පැත්තට. පුදුම එකක් සරණ. සුගතයි කියනකොට ඒ සුගත ගුණය කියන්නෙ, මනාව බුදුරජාණන් වහන්සේ සුන්දර නිවන් මාර්ගයේ ගමන් කරලා, සොඳුරු ගමන් ඇති, සොඳුරු කතා විලාශ ඇති, සොඳුරු සිරුරැති, සොඳුරු වචන ඇති, සොඳුරු දහම් පවසන මහා මුණිවරයා. ඒ සිද්ධිත් එක්ක ගන්න ඕන, උන්වහන්සේගේ ගමන් විලාශය, කතා විලාශය, උන්වහන්සේ නිර්වාණ මාවත ප්‍රණීතව ගමන් කරපු හැටි. හොඳට සුගත ගුණය ගැන හිත පහදිනවා. ලෝකවිදූ ගුණය කියනකොට උන්වහන්සේ අවබෝධ කරගත්තු ලෝක, ලෝක වල ස්වභා, පුදුම හිතෙනවා බුදු කෙනෙක් ඇර නම් මේවා අවබෝධ කරන්න නම් බෑ පින්වත්නි. ලෝකවිදූමයි මගේ බුදුරජාණන් වහන්සේ. ඊළඟට අනුත්තර පුරිසදම්ම සාරථී කියලා කියන්නෙ දමනය කළ හැකි දෙවියන්, බඹුන්, යක්ෂයන්, ඕන තිරිසන් සතා වුනත් දමනය කරනවා. බුදුරජාණන් වහන්සේට ලෝක සත්ත්වයා දමනය කරන්න පුලුවන් හැකියාවක් තියෙනවා. අසිරිමත්. තමන්ගේ පිටිපස්සෙ කඩුවක් අරගෙන තුන්යොදුන් එන කෙනා එක වචනයෙන් නවත්වන්න පුලුවන්නෙ. ඇඟේ නූල්පොටක් නැතිව ළඟට එන පිස්සියක් වගේ, ඈට එක වචනයෙන් ඒ පිස්සුව නැති කරන්න පුලුවන්නෙ බුදුරජාණන් වහන්සේට. රා කළ දාසයක් බීලා, දළ වල මිනී අමුණාගෙන එන ධනපාල හස්ති රාජයා එක වචනයෙන් දණ ගැස්සුවානෙ. කොහොම දමනයක් ද. අනුත්තර පුරිසධම්මසාරථී ගුණය. අපි අද දමනය වුනේ. ඔබ දමනය වුනේ. ඒ සියලු මහරහතන් වහන්සේලා දමනය වුනානෙ. අනුත්තර පුරිසදම්ම සාරථී, සිද්ධිත් එක්ක හිතන්න ඕන. සිද්ධිත් එක්ක හිතන් නැති නිසා තමයි බුද්ධානුස්සතිය පිහිටන්නැත්තෙ. ඊටපස්සෙ සරණ හොඳට තියෙන්නෙ ඕන. හොඳට බුද්ධානුස්සතිය පිහිටනවා, තිසරණ සරණ තියෙන කෙනාට. ඊළඟට සත්තා දේවමනුස්සානං, දෙවියන්ට මිනිස්සුන්ට තියෙන ප්‍රශ්න වලට එකම විසඳුම බුදුරජාණන් වහන්සේ. ඔය දෙවියන් පිටිපස්සේ මේ බල්ලො වගේ ලගින එක පිටිපස්සෙන් යන එක සම්පූර්ණයෙන් නැතිවෙනවා මේ බුදුරජාණන් වහන්සේ සරණ ගියාට පස්සෙ. බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා දෙවියන් බඹුන් උපස්ථානයට ඇවිල්ලා බුදුරජාණන් වහන්සේගෙන් තමයි අහගෙන යන්නෙ මේ

ජීවිතේ තියෙන ස්වභාවවල්. සංයුත්ත නිකායේ දේවතා සංයුත්තයේ තියෙනවා කියවන්න බලන්න දෙවිවරුන්ගේ ජීවිත. ඒ විමානවත්ථුව කියවන්න, දෙවිවරු බුදුරජාණන් වහන්සේට වැඳ වැඳ ඉන්න විදිය බලන්න. එතකොට මේ තුණුරුවන් සරණ තියෙද්දිත් සරණ යන්නැතිව දෙවි කෙනෙකුට කන්නලව් කරගෙන ඒකෙන් පිහිටක් හොය හොයා ඉන්නකොට ඒ දෙවිවරු කළකිරෙනවා, ඇත්ත දෙවිවරු නම් මුන්ට මේ තිසරණ සරණ නැනෙ කියලා. ඊටපස්සෙ ඒකනෙ පින්වතුනි ඒ සරණ, බ්‍රහ්මයා පවා පුදුම සරණක් තියෙන්නෙ පින්වත්නි. උදාහරණයක් කියන්නම්. ඔන්න එක, බ්‍රහ්මදේව කියලා ඒ කියන්නෙ එක බැමිණියක් හිටියා, ඒ බැමිණිය මහාබ්‍රහ්මයා අදහන්නෙ. ඊටපස්සෙ ඒ බැමිණියට පුත්‍රයෙක් ලැබුනා. ඒ පුත්‍රයාට නම තිබ්බා බ්‍රහ්මදේව කියලා. ඊටපස්සෙ පස්සෙ කාලෙක ඒ දරුවා ධර්මය අහලා මහණ වුනා, මහණ වෙලා අර්හත්වයට පත්වුනා. ඉතින් අර බැමිණිය වෙනම, ඒවාවත් ගාණක් නෑ, පුතාවත් ඕන් නෑ, බ්‍රහ්මයාටම තමයි වැඳ වැඳ ඉන්නෙ. ඊටපස්සෙ දවසක් අර බ්‍රහ්මදේව මහරහතන් වහන්සේ ගෙදරට වැඩියා. වඩිනකොට එදාට යාගයක්. ප්‍රණීත ප්‍රණීත කෑම හදලා ගින්නක් අවුලුවලා යාග කරන්න හදනවා බැමිණිය. තමන්ගේ පුතා රහතන් වහන්සේ වැඩලා. කිව්වා, ආ ඔබ වහන්සේ ඔහොම ඉන්න, පුත්‍රය ඔහොම ඉන්න. මං දැන් යාගයක්. යාගය ඉවරවෙලා කතා කරමු කිව්වා. දැන් මේ බැමිණිය යාග කරනවා දැන් කෑම ටික තියාගෙන ගින්දරට. සහම්පති මහාබ්‍රහ්මයා දිවැසින් දුටුවා මේක. බලන්න මේ යොදුන් ගාණක්, යොදුන් ගාණක් කියන්නෙ බ්‍රහ්මලෝකෙ ඉඳලා මහා පර්වතයක් බිමට හෙළුවොත් පෘථිවියට වැටෙන්න මාස හතරක් යනවා. ඉතින් ඒ නිසා ඒ මාස හතරක් යද්දිත් පින්වත්නි, එච්චර දුරක් මේ බ්‍රහ්ම ලෝකෙට. ඒ කියන්නෙ එක ලෝකෙකින් එක ලෝකෙකට යොදුන් අසූහාරදාහ, අසූහාරදාහ තියෙනවා. එතකොට මතක තියාගන්න, ලෝක ටික චාතුම්මහාරාජිකය, තාවතිංසය, යාමය, තුසිතය ඔය විදියට යොදුන් අසූහාරදාහ, අසූහාරදාහ උඩට යන්නෙ. එතකොට කොච්චර දුරක්ද. ඉතින් ඒ බ්‍රහ්මයාට පෙනුනනෙ අර රහතන් වහන්සේට දානෙ දෙන්නැතිව යනවා කියලා. ඒ මහාබ්‍රහ්මයා අර ගින්දර ඉදිරියේ පෙනී හිටියා. පෙනී ඉඳලා කිව්වා. ඒයි බ්‍රාහ්මණී, ආන්න මහාබ්‍රහ්මයා ඇවිල්ලා ඉන්නවා මිදුලේ. මේ ඔහේලා කරන මේ යාග හෝම මේ බ්‍රහ්මයන්ට වැඩක් නෑ කිව්වා. පොඩ්ඩක් කල්පනා කරන්න කිව්වා මේ මනුස්ස ලෝකෙ ඉඳලා බ්‍රහ්ම ලෝකෙට කොච්චර දුරයිද කියලා. අනිත් එක ඔහේලා කන ඒවා බ්‍රහ්මයො කන්නෙත් නෑ කිව්වා, මෙහෙන් හදලා. මහාබ්‍රහ්මයා මිදුලේ ඉන්නෙ

කිව්වා. යනවා කිව්වා. මහාබ්‍රහ්මයාට දානෙ ටිකක් දෙනවා කිව්වා. බ්‍රාහ්මණීට තරු විසිවුනා. ඒ වගේ අද එක දේවාලෙක නෑනෙ එක දෙවියෙක් කතා කරලා කියන්න. එකෙක් නෑ. තුණුරුවන් සරණ ඉන්නවා, තුණුරුවන් සරණ පලයල්ලා කියලා. ඉතින් ඒ නිසා ඒ දෙවියන්ටත් මිනිස්සුන්ටත් එකම සරණ බුදුරජාණන් වහන්සේගේ සරණ. ශ්‍රී සද්ධර්මයේ සරණ. ආර්ය මහා සංඝරත්නයේ සරණ. සිරිමත් බඹ සිරසෙහි පා පිසිනා, සැරියුත් මහ මුගලන් පිළිවෙලිනා. සැරියුත් මහමුගලන් ආදී ඒ මහරහතන් වහන්සේලා තමාගේ පා වල දූවිලි පිස්සේ මහා බ්‍රහ්මයාගේ හිසේ. ආයෙ මොන කතා ද. කාන්තාවන්ට කොච්චර බනිනවාද මිනිස්සු. ඒ වුනාට බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවිකාවෝ, ඒ රහත් මෙහෙණින් වහන්සේලාගේ සිරිපා ළඟ මහාබ්‍රහ්මයා දණ ගැහුවා. ඔටුනු පළන් දෙවිවරු ඒ යශෝධරා උත්තමාවියගේ, මහාප්‍රජාපතී උත්තමාවියගේ, පටාචාරා, ඛේමා, උත්පලවණ්ණා, ධම්මදින්නා උත්තමාවියන්ගේ සිරිපා වඳිද්දි ඔටුනු පළන් දෙවිවරු ඒ ඔටුනු වලින් විහිදුනු රශ්මි ධාරාව නැමැති ජලයෙන් ඒ උත්තමාවියන්ගේ සිරිපා දේවිලා ගියා. එච්චර ස්ත්‍රියට බ්‍රහ්මයා, ළඟ දණ ගහන මට්ටමට බුදුරජාණන් වහන්සේ ශ්‍රාවක පරම්පරාව තිබුනා. මොන කතාද. ඉතින් ඒ නිසා පින්වත්නි මේවා හොඳට තේරුම් ගන්න. තිසරණය කියන එක. මැරුණත් මම බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනා. ධර්මය සරණ ගිය කෙනෙක්. ශ්‍රී සද්ධර්මය සරණ ගිය කෙනෙක්. මම සත්පුරුෂයන් ළඟටයි යන්නෙ. දුගතියේ උපතක් මට නෑ. අන්න ශ්‍රාවකයාට තියෙන සරණ. බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ කරන පින් බුදු කෙනෙක්ගේම ශාසනයේම විපාක දෙනවා පින්වත්නි. වෙන තැන්වල විපාක දෙන්නෑ, චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගෙන කරන පින් චතුරාර්ය සත්‍යය අවබෝධයටමයි උපකාර වෙන්නෙ. පින්වතුනි අපි කියමුකො, ඔබ අහලා තියෙනවාද කෙකණියන්, කෙකණියන් ගැබ් ගන්නේ මේඝ ඝර්ජනාවට. වළාකුළු හඬට තමයි ගැබ් ගන්නෙ. වළාකුළු හඬට ගැබ් ගන්න කෙකණිය අවුරුදු දහයක් වැස්සෙ නැත්නම් අවුරුදු දහයම බිහි කරන්නෙ නෑ, වදන්නේ නෑ, ආයෙත් මේඝ ඝර්ජනාවක් ඇහෙනකොටම තමයි වදන්නෙ. මේඝ ඝර්ජනාවෙන් ගැබ් ගන්න කෙකණිය, මේඝ ඝර්ජනාවෙන්ම තමයි වදන්නෙ. ඒ වගේ තමයි බුද්ධ ශාසනයේ කරන මේ පුණ්‍ය සංස්කාර, මේ පින, මේ චේතනාව බුද්ධ ශාසනයකම විපාක දෙනවා. ඒ නිසයි කියන්නෙ සරණේ බලවත්ව පිහිටන්න කියලා. අපතේ යන්නෑ. කවදාහරි අමාමහ නිවන ලබලා දෙනවාමයි. දුකෙන් එතෙර කරනවාමයි. ඒ නිසා බුදුරජාණන් වහන්සේ වදාළා සත්තා දේව

මනුස්සානං, බුද්ධ. බුද්ධ කියලා කියන්නෙ බුදුරජාණන් වහන්සේ ඒ තමන්ගේ අවබෝධ කරගත්ත ධර්මය අන් අයට දේශනා කරනවා, අනේකප්‍රකාරයෙන්. භගවා කියලා කියන්නෙ භාග්‍යවන්තයි. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා මෙන්න මේ බුදු ගුණ සිහි කර කර, සිහි කර කර, සිහි කර කර මේ ඉන්න එක මෙහෙම කරන්න කිව්වා. ඉද මහානාම තථාගතං අනුස්සරෙය්‍යාසෙ, මහානාම, ඔබ තථාගතයන් වහන්සේ සිහි කරන්න මේ මේ ගුණ වලින් යුක්තයි කියලා. නේවාස තස්මිං සමෙ රාග පරියුට්ඨිතං චිත්තං හෝති, ඒ වෙලාවට මහානාම ඔබගේ හිත රාගයෙන් යටවෙන්නෑ. ඔන්න බුදුරජාණන් වහන්සේගේ සරණ සිහිකර කර ඉන්න එකේ යහපත. රාගයෙන් යටවෙන්නෑ. ඊටපස්සෙ න දෝෂ පරියුට්ඨිතං චිත්තං හෝති, ද්වේෂයෙන් යටවෙන්නෑ. මෝහපරියුට්ඨිතං චිත්තං හෝති, හිත මුලාවෙන්නෙ නෑ ඒ වෙලාවට. උජුකතං නේවස්ස තස්මිං සමේ චිත්තං හෝති තථාගතං ආරබ්භ, බුදු කෙනෙක් කෙරෙහි සිත ඍජු වෙලා තියෙන්නෙ ඒ වෙලාවෙ. බුදු කෙනෙකුටම හිත පුදලා ඒ වෙලාවෙ. ඊටපස්සෙ දේශනා කරනවා, උජුගත චිත්තෝකෝ පන මහානාම අරියසාවකෝ ලභති අත්තවේදං ලභති ධම්ම වේදං ලභති ධම්මෝපසංහිතං පාමොජ්ජං, ඒ බුදු කෙනෙක් කෙරෙහිම හිත පිහිටියාට පස්සෙ බුදුරජාණන් වහන්සේටම හිත වෙන්වුනාට පස්සෙ තමයි ධර්මය හිතට වැටෙන්නෙ. දහම් අර්ථ තේරෙන්න ගන්නෙ එතකොට. ධර්මය හිතට වැටෙනකොට, දහම් අර්ථ තේරෙනකොට, තේරෙනකොට, හොඳට ප්‍රීතිය උපදිනවා. පමුදිතස්ස පීති ජායතී, ප්‍රමුදිත බව, ප්‍රමුදිත බවෙන් ප්‍රීතිය උපදිනවා. පීතිමනස්ස කායෝ පස්සම්භති, ප්‍රීති සහිත සිතෙන් හිත සැහැල්ලුව ඇති කරනවා, කයයි සිතයි. පස්සග්ග කායෝ සුඛං වේදෙති, සැහැල්ලු කයට සැපම දැනෙන්න ගන්නවා. ඊටපස්සෙ සැප වේදනාවම දැනෙන්න ගන්නවා. සුඛිනෝ චිත්තං සමාධි, සැපවත් හිත එකඟ වෙලා යනවා. ඔන්න සමාධිය. මෙන්න භාවනාව. මෙන්න සම්මා සමාධියට හිත වැඩෙනවා. සමාධිය. ඊටපස්සෙ ඉමංකෝ ත්වං මහානාම බුද්ධානුස්සති ගච්ඡංතො භාවෙය්‍යාසි, මහානාම මේ බුද්ධානුස්සතිය. ඔය විදියට බුදු ගුණ හිත හිතා ඉන්න එක යනකොටත් කරන්න. මේ බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ. ඇවිදිනකොටත් කරගෙන යන්න. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා නිසින්නෝපි භාවෙය්‍යාසි, ඉඳගෙන ඉන්නකොටත් බුදු ගුණම හිත හිතා ඉන්න. පින්වතුනි අපි බුදුරජාණන් වහන්සේගේ ජීවිත කතාව කියනවා කියන්නෙ බුදු ගුණනෙ. ජාතක කතා කියනවා කියන්නෙ බුදු ගුණනේ. ඒකෙ ඉඳගෙන ඉන්නකොටත් කරන්න. හිතෝපි භාවෙය්‍යාසි, හිටගෙන ඉන්නවා,

බස් එකක් එනකල්, වැඩක් පලක් කරනකල්, කෙනෙක් එනකල්, තේ එක හදනකල්, වතුර උණුවෙනකල්, ඒ හිටගෙන ඉන්නකොටත් හිතන්න බුදුගුණ. ඊටපස්සෙ කම්මන්තං අධිට්ඨයෙන්තෝපි භාවෙයයාසි, වැඩපල කරන ගමන් හිතන්න කියනවා, බුදු ගුණම. ඊටපස්සෙ තියෙනවා පුත්‍ර සම්බාධ සයනං අජ්ඣා වසන්තෝපි භාවෙයයාසි, දරුමල්ලොත් එක්ක ගෙවල් වල වාසය කරද්දිනුත් බුදු ගුණම හිත හිතා ඉන්න කියනවා. කොහොමද, කාගෙ අවවාද ද? බුදුරජාණන් වහන්සේගේ. බුද්ධානුස්සතියෙන්ම නිර්වාණ මාවත විවෘත වෙනවා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, මම එකම එක ධර්මයක් දකිනවා කියනවා අමා මහා නිවන ලබාදෙන. ඒ තමයි කියනවා බුද්ධානුස්සතිය. ඒ නිසා පින්වතුනි බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ශ්‍රී සද්ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. බුද්ධානුස්සතිය වඩන්න බුදුගුණ දැනගෙන තියෙන්න ඕන. බුද්ධානුස්සතිය වඩන්න සරණ පිහිටලා තියෙන්න ඕන. උදාහරණයක් ගත්තොත්, අනුස්සතිනෙ මෙච්චා. බුද්ධානුස්සති, ධම්මානුස්සති, සංඝානුස්සති, සීලානුස්සති, චාගානුස්සති. සීලානුස්සති වඩන්න පුලුවන්ද සීලය නැති කෙනාට? චාගානුස්සතිය වඩන්න පුලුවන්ද දන් නොදුන්නු කෙනාට? එහෙනම් තිසරණ සරණ ගියෙ නැති, බුදු ගුණ දන්නැති කෙනාට බුද්ධානුස්සතිය වඩන්න බෑ. අන්න ඒ නිසා ඔබට බුද්ධානුස්සතියෙන්ම මේ සසර කෙළවර කරගන්න අත්වැලක් ලබලා දෙන්නයි මේ අසිරිමත් සම්බුදු සරණ ගැන ඔබට කියලා දෙන්නෙ. ඒකෙන් පිහිට පිළිසරණ ලබන්න. මේක හිස් දෙයක් නෙවෙයි. මේක මහා ආනුභාවසම්පන්න ඔබගේ ජීවිතේට ලැබෙන පුණ්‍ය විපාකයක්. ඉතින් ඒ නිසා අද දවසට ඔය කරුණු කාරණා ටික ඔබ මතක තියාගන්න. ඔබ කාටත් අසිරිමත් සම්බුදු සරණම ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

අද දවසේ පින්වත්නි අසිරිමත් සම්බුදුසරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ වසර හැත්තෑ එකක් ආයු වළඳා 2020 අප්‍රේල් මස දාසය වෙනි දින මියපරලොව ගිය බොනිෆල් ක්ලේමන් පෙරේරා පියාණන්ට පින් අනුමෝදන් කරන්න, ප්‍රංශයේ වෙසෙන දූදරුවන් සහ ඥාති හිතමිත්‍රාදීන් විසින්. ඉතින් ඒ නිසා අපි මේ විදියට පින් අනුමෝදන් කරමු. පළමුවෙන්ම සෙත් ප්‍රාර්ථනා කරමු ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක්ව පැවතගෙන ආ ඒ කොරෝනා වසංගතය මේ ලෝකයෙන්ම තුරන් වේවා. මනුෂ්‍ය වර්ගයාට යහපතම සැලසේවා, සියලු ආරක්ෂාව සැලසේවා කියලා මේ පින් බලයෙන් අපි සෙත් ප්‍රාර්ථනා කරමු. සියලු දෙවිවරු මේ පින් අනුමෝදන් වෙලා මේ සියලුදෙනා

ආරක්ෂා කරත්වා, මේ ලක්දෙරණත්, ඒ වගේම මනුෂ්‍ය වර්ගයාත් ආරක්ෂා කරත්වා කියලා දෙවිවරුන්ට පින් පමුණුවනවා. මේ සකල පුණ්‍ය සම්භාරය අද දවසේ ධර්ම දානයෙන් රැස්වුන, සකල පුණ්‍ය සම්භාරයම අනුමෝදන් කරනවා බොනිෆන් ක්ලේමන් පෙරේරා මහත්මයාට, දාසය වෙනිදා මියපරලොවගිය, අප්‍රේල් මාසෙ මේ. එතුමාණන්ට මේ පින් අනුමෝදන් වේවා, අනුමෝදන් වේවා. ධර්ම දානයෙන් රැස් වුනු, ඒ වගේම නොයෙක් ආමිස ප්‍රතිපත්තියෙන් නොයෙක් පූජාවලින් මේ දරුවන් සිද්ධ කරන සියලු පින් අනුමෝදන් වෙලා එතුමාගේ පරලොව යහපත වේවා, සත්පුරුෂ ඇසුර ලැබේවා, බුදු සසුනේ පිහිට ලැබේවා කියලා අපි පින් පමුණුවනවා. ඔබ කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා. පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වී නිදුක්, නිරෝගී, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලුම සඟරුවනට, සිල් මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් බලයෙන් ගෞතම බුදු සසුනේ පිහිට ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම විශේෂයෙන්ම ප්‍රංශයේ වෙසෙන ඒ පින්වත් දරුවන් පිරිසට මේ පින් අනුමෝදන් වෙත්වා, ඒ වගේම ඒ දරුවන්ට සියලු නිදුක් නිරෝගී සුව ආරක්ෂාව රැකවරණය ඒ වගේම තිසරණ පිළිසරණ සැලසේවා. ඒ වගේම ඔබ කාටත් හැදූ වැඩූ දෙමව්පියන්ට අකුරු කෙරූ ගුරුවරුන්ට ඒ වගේම මේ ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයට ලක්විරු ගුවන් විදුලියේ කාර්ය මණ්ඩලයට ඒ වගේම ධර්ම දාන පවත්වන සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. අපි කාටත් උතුම් ගෞතම බුද්ධ ශාසනයේ උතුම් තිසරණයේ සරණම හිතේ පිහිටාවා. සසර දුකින් නිදහස් වෙන්න මේ රැස් කරන සියලු පින් හේතු වාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=fTF8Ua-CBkM&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=4

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ උතුම් අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ අංක 385/1, ශාන්ති මාවත, කිරිල්ලවල, කඩවත යන ලිපිනයේ පදිංචි පින්වත් අනුෂ්ක ප්‍රගීත් රණසිංහ මහත්මයා මුල්වෙලා. ඉතින් මෙතුමා අද දවසේ මේ උතුම් ධර්මදානයට සම්බන්ධ වෙලා අප්‍රමාණ පිනක් තමන්ගේ ජීවිතයට රැස් කරගන්නවා. මොකද අපි නිවනට මූලික ප්‍රවේශය වන උතුම් සරණ ශක්තිමත් කරගැනීම තමයි සිද්ධ කරන්නෙ. පින්වතුනි ඔබ ස්තූපයක් හදන හැටි දැක්කා නම් ඒ ස්තූපය හදන හැටි දැක්කා නම් ඒ ස්තූපයේ ගොඩාක් යට පාදම හදනවා. ඒ පාදම ගොඩාක් ශක්තිමත් වෙන්න ඕන. ඒ ශක්තිමත් වෙන තරමටම ස්තූපයේ කල්පැවැත්ම තියෙනවා. ඊටපස්සෙ තමයි ස්තූපය හදන්නෙ. හැබැයි මතක තියාගන්න ස්ථූපය පේනවා, පාදම පේන්නෑ කාටවත්. හැබැයි හොඳටම හදන්නෙ, වැඩිපුර කාලය යන්නේ හොඳටම හැදිය යුත්තේ පාදම. ස්තූපය හදන අය දන්නවා. එය පසෙක තැබේවා, ඔබ දන්න කාරණාවක් කියන්නම්. ස්වර්ණමාලී මහා සෑයේ පේසා වළලු තුන ගොඩනගනකොට, ගොඩනගලා ඉවරවෙනකොට ඒ පේසාවළලු තුන ආයෙ කිදා බහිනවා. ඒ කියන්නෙ පළවෙනි තැනටම එනවා ආයෙ. ඔක්කොම පොළොව ඇතුළට යනවා. ආපහු හැදුවා. ආපහු ඇතුළට ගියා. නව වතාවක් ගිලුනා. එතකොට දැන් ඔය රුවන්වැලි මහාසෑයේ පේසාවළලු තුන තියෙනවා වගේ ප්‍රමාණ නවයක් පොළොව ඇතුලෙ තියෙනවා. එතකොට එහෙම ගත්තොත් සාමාන්‍යයෙන් සෑයෙ වගේ පේසාවළලු තුනේම කෝටි දහදාහක් මහ විශාල ගඩොල් කෝටි දහදාහක් බැඳලා තියෙනවා, ස්වර්ණමාලි මහාසෑයේ. එච්චර පාදම. ඒවා රහතන් වහන්සේලා කරලා තියෙන්නෙ, දෙවියන් කරලා තියෙන්නෙ, රුවන්වැලි මහාසෑය ගෞතම බුදුසසුන පවතිනතුරා ඒ මහාසෑය පැවතීම පිණිස. මහාසෑය කාටවත්, ඒ

මහාසෑය වෙනත් ස්තූප වගේ පොළොවෙන් නැතිවෙලා යන්නෑ. ඉක්මණට හදන ස්තූප, ඒ වගේම පාදම ශක්තිමත් නැතුව, නිකන් ඉක්මණට හැදුවොත් එහෙම ඒකෙ කල්පැවැත්ම අඩුයි. නමුත් ස්තූපය කෙසේත් පූජනීයයි. මම කිව්වේ පාදම ගැන. නිවසක් හදද්දි හොඳට සැළකිලිමත් වෙන්නෙ කල් යන්නෙ අමාරුවෙන් කරගන්නෙ පාදමේ කටයුතු. බිත්ති බඳින එක දවසින් දෙකෙන් කරගත්තහැකි. නමුත් පාදම පේන්නෑ, ගේ පේනවා. බිල්ඩිමක් හොඳ උසට ලොකු බිල්ඩිමක් හදන්න ඕන නම්, ඒකෙ පාදම තමයි හොඳටම හදන්න ඕන. බිල්ඩිමේ මූලික තැන තියෙන්නෙ පාදමට. කල්පැවැත්ම පිණිස. ඇයි මම මේ උපමා කියන්නෙ. මේ බුද්ධ ශාසනයේ තමන්ගේ නිවන කියන ස්තූපය, තමන්ගේ හද මඩලේ ඇතිකරගන්න ඕන නම් හොඳ පාදමක් දාගන්න ඕන. ඒ පාදම වළලු තුනකින් යුක්තයි. බුද්ධ රත්නය, ධර්ම රත්නය, සංඝ රත්නය. ඒ උතුම් තිසරණය කියන පාදම හොඳට වැටුනොත් එයා බුද්ධ ශාසනයේ කොච්චර කල් රඳා පවතිනවාද, ශාසනයෙන් කොච්චර පිහිට ගන්නවාද කියන එක තීරණය වෙනවා ඔහුගේ හිත තුළ තියෙන ශ්‍රද්ධාවත් එක්ක. නමුත් අර ස්තූපයක, මහා ස්තූපය පේනවා පාදම පේන්නෑ වගේ, කෙලින්ම අපිට නිවන ගැන කියනකොට පටිච්ච සමුප්පාදය, පංචුපාදානස්කන්ධය, ආයතන වගේ ගාම්භීර ධර්මදේශනා අපගේ හිතට එනවා. නමුත් ඒ තුළ ඇතුලේ තියෙන පාදම පේන්නෑ. ඇත්තටම ඒ ධර්මය අවබෝධ කරන්න පහසු වෙන්නෙ, ඒ ධර්මය අවබෝධ කිරීමේ ලා මුලා නොවෙන්නෙ, ඒ ධර්ම අවබෝධ කිරීමේ ලා නිවනට මුල්වෙන්නේ තිසරණය තමන්ගේ හිතේ තියෙන මට්ටමත් එක්ක. ඒ නිසා තමයි හොඳ පාදමක් ඇතිකරගන්න පින්වත්නි. තමන්ගේ ජීවිතේට මූලික අඩිතාලමක් හදාගන්න. කොච්චර කුඹුර සරුසාර වුනත් බීජය හොඳට තියෙන්න ඕන. ඒ වාගේ තමයි ශ්‍රද්ධා බීජං, මේ තුණුරුවන් කෙරෙහි තියෙන පැහැදීම නැමැති ඒ බීජය හොඳටම තියෙන්න ඕන. ඊටපස්සෙ ඒකෙන් පැළ, කුඹුර සරුසාර නැතිව පැළවෙන බීජය ඔහේ වැනි වැනී තිබ්බත් යම්දවසක සාරයක් ලැබුනට පස්සෙ ඒක හොඳට වැවිලා එනවා. ඉතින් ඒ නිසා මේ කරුණු කාරණා ගැන තේරුම් ගන්න. බුද්ධ ශාසනය ගැන මනා වැටහීමක් තියෙන සත්පුරුෂයන් වහන්සේලාගේ අවවාද අනුශාසනා මත මේ සිදුවන ඒ දහම් වැඩපිළිවෙල ඔබ හරියට තේරුම් ගන්න දක්ෂ වෙන්න ඕන. ඉතින් ඒ නිසා පින්වතුනි අදත් අපි උතුම් සම්බුදු සරණ දහම් වැඩසටහනේදි ඔබට අදත් කියලා දෙන්නේ මේ තිසරණයේ තියෙන වටිනාකමමයි. ඊටපස්සෙ ඔබට අසිරිමත් බුදුරජාණන් වහන්සේ ගැන කියලා දෙන්නම්. උදාහරණයක් විදියට

කිව්වොත් අපි ඔබගේ ලෝකය දිහා ගත්තොත් එහෙම මොනවාහරි වැඩසටහනක් පිණිස බැනර් ගහගෙන යනවා. ඊළඟට එනවුන්ස්මන්ට් යනවා. ඊටපස්සෙ ළමයි ෆේස්බුක් දානවා. පොඩි පොඩි වීඩියෝ කෑලි හදලා දානවා. ඒ වගේ ලොකුවට ප්‍රචාරයක් ගිහිල්ලා, එතකොට තමයි අනිත් අය බලන්නෙ මොකක්ද මොකක්ද කියලා. ඊටපස්සෙ ඒ මොකක්හරි චිත්‍රපටියක් නම් මොකක්හරි වැඩසටහනක් නම් ඒක දියත් කරනවා. ඒ වගේ, මේකත් ඒ වගේ. ඒක තමයි මෙච්චර තුණුරුවන්ගේ අගය මේ කියනවා. අගය කියලා ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ යනු කවරහුද කියලා අනේකවිධ ගුණ වලින් ඔබට අසන්න අවස්ථාව, වාසනාව උදා වෙනවා. ඉතින් ඒ නිසා පින්වතුනි අද දවසේත් මේ විදියට තේරුම් ගන්න. මම දැක්කා බුදුරජාණන් වහන්සේගේ ජීවිතය ගැන ඒ තියෙන විස්තර වල තියෙනවා, බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ යම් තරමට හිතේ රැඳෙනවාද, ඒ තරමටම පාප බැහැරවෙනවා කියලා. ඔබගේ හිතේ පව් සිතුවිලි නිතර ඇතිවෙනවා නම්, පින්වත්නි නිතර නිතර බුදුගුණයෙන් හිත පුරවා ගන්න. බුදුගුණයෙන් හිත පුරවා ගත්තට පස්සෙ පව් සිතුවිලි බැහැර වෙලා යනවා. මේ ඇතුලේ අඳුර දුරු වෙන එක ගැන කවර කතාද, රැයක් එළිවෙනකල් බුද්ධෝ බුද්ධෝ කියන බුද්ධ නාමය සිහි කරලා, සුදත්ත සිටුතුමා රෑ මැද නැගිට්ටනෙ එළිය වැටිලා කියලා. ඔහුගේ හිතේ ආලෝකයට බාහිර අඳුර නැතිවෙලා එළියම පේන්න ගත්තා. ඊටපස්සෙ සුදත්ත සිටුතුමා දැන් හොයාගෙන යනවා දැන් එළිවෙලා කියලා. සොහොනක් මැදින් යනකොට ඒ සොහොනේ ඉන්න හිවලුන්ගේ, සත්තුන්ගේ ශබ්දයට හිත ගැස්සුණා. ආයෙ අඳුරු වුනා. ඊටපස්සෙ සිටුතුමා හැරුණා ආපහු එන්න. එතකොට ආකාසේ ඉඳලා සීවක කියන යක්ෂයා, ආකාසෙ ඉඳලා සීවක දෙවියා කියනවා, සතං හත්ථී සතං හස්සා සතං අස්ස සරීගතා සතං පඤ්ඤා සහස්සානි ආමුත්ත මනිකුණ්ඩලා. මේ අශ්වයෝ ලක්ෂයක්, ඊළඟට ඇත්තු ලක්ෂයක්, සියලු ආභරණවලින් සැරසුනු කන්‍යාවියෝ ලක්ෂයක්, දෙනවද ඒකස්ස පදවීතිහාරස්ස කලං නාග්ගන්ති සෝරසිං. බුදුරජාණන් වහන්සේ බැහැදකින්න තියෙන එක පියවරක වටිනාකම ඔය කියපු ඒවගේ වටිනාකමත් එක්ක සැසඳුවොත් ඒ කියපු ඒවගේ වටිනාකම දාසයෙන් පංගුවයි කිව්වා. එතකොට බුදු කෙනෙක් බලන්න යන පියවරේ වටිනාකම, ඇයි කොච්චර වටිනවාද කියනවා නම් සුදත්ත සිටුතුමා බුදුරජාණන් වහන්සේ බැහැදකින්න යම් පියවරක් තිබ්බාද, ඒ පියවර තියාගෙන ගිය ගමන හේතුවෙන් එදා පටන් නිවන් දකින මොහොත දක්වා අපයාට පෙරළා වැටෙන්නැති පුණ්‍ය සංස්කාර

ඉපදුනානෙ. තිරිසන් ලෝකෙට වැටෙන්නෑනෙ. ප්‍රේත ලෝකෙට වැටෙන්නෑනෙ. අසුර ලෝකෙට වැටෙන්නෑනෙ, සතර අපායට වැටෙන්නෑ කියන එකට අගයක් කියන්න පුලුවන්ද. අර සතං හත්ථී සතං කඤ්ඤා සතං ඒ ඒ විදියට ගණන් හදලා ඒවා ගණන් කරන්න පුලුවන්. සතර අපායට නිවන් දකින මොහොත දක්වා වැටෙන්නෑ කියන එක. ජීවිත අටකින් අමා මහ නිවන අවබෝධ කරන බව ඔහුට ලැබෙනවානෙ. බුදු කෙනෙක් ළඟට ගිය නිසානෙ ඒක වුනේ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ බැහැදකින්න යන පියවරක වටිනාකම කියන්න බෑ. ඉතින් එච්චර අග්‍රයි පින්වතුනි බුදුරජාණන් වහන්සේ ලෝකෙ. බුදුරජාණන් වහන්සේ කොච්චර ලෝකෙ අග්‍රයිද කියනවා නම් බුද්ධෝති වචනං සෙට්ඨං බුද්ධෝති පදුමුත්තමා නත්ථි තේන සමංලෝකෙ අඤ්ඤංසෝතරසායනා, බුදුරජාණන් වහන්සේ ලෝකයේ උත්තමයි බුද්ධ කියන වචනය පවා. ඒ වචනය පවා ශ්‍රේෂ්ටයි. මේ කණට මිහිරි එච්චරම වචනයක් නෑ කියනවා මේ තුන්ලෝක ධාතුවේම. ඇයි පින්වතුනි කල්ප අසංඛෙයයක් බුදුවරුන් පහළ වුන් නෑ කියන්නෙ කල්ප අසංඛෙය්‍යකටම බුද්ධ කියන වචනෙ නෑ. කල්ප අසංඛෙය්‍යකටම නෑ. විපස්සී බුදුරජාණන් වහන්සේ පහළ වෙලා කල්ප හැටක් මේ ලෝකෙට බුදුරජාණන් වහන්සේලා පහළ වුනේ නෑ, සිඛී බුදුරජාණන් වහන්සේ දක්වා. ඒ කල්ප හැටේම බුද්ධ කියන වචනය නෑ. මේක තේරුම් ගන්න පින්වත්නි. බුද්ධ කියන වචනය, ඉතිපිසෝ ගාථාව කියන කෙනෙක් නෑ මනුස්ස ලෝකෙ. කල්ප හැටක්. ඊළඟට සිඛී, වෙස්සභූ බුදුරජාණන් වහන්සේලාගෙන් පස්සෙ කල්ප තිහක් බුද්ධ කියන වචනය ඇහුන්නෑ. කොච්චර සංසාරයේ නිවන් දකින්න පින් තියෙන අය වුනත් සසරට වැටි වැටී යනවාද බුදුකෙනෙක් පහළ නොවුනු නිසා. බුදු කෙනෙක් පහළ වෙන්නැතිව ලෝකයේ ධර්මය අවබෝධ කරගන්නෙ පසේ බුදුරජාණන් වහන්සේලා. හැබැයි පසේබුදුරජාණන් වහන්සේලා පහළ වෙන්නත්, බුදු කෙනෙක් පහළ වෙන්න ඕන. බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙන කාලෙට පෙර තමයි පසේ බුදුරජාණන් වහන්සේලා පහළ වෙන්නෙ. ඒ නිසා පසේ බුදු කෙනෙකුට පහළ වෙන්නත් ලෝකෙ බුදු කෙනෙක් පහළ වෙන්න ඕන. සියලූම රහතන් වහන්සේලාට බුදු කෙනෙක්ම පහළ වෙන්න ඕන, රහතන් වහන්සේලා තනිවම පහළ වෙන්නෑ, ඒ නිසා මේ බුදු කෙනෙක් ලෝකෙ පහළ වෙනවා කියන එක අතිශ්‍රේෂ්ටයි, අතිශයින් ශ්‍රේෂ්ටයි පින්වත්නි. අනන්ත ගුණ සමුදායක්, බුදුරජාණන් වහන්සේලා පාරමී ධර්ම පුරනවානෙ. පාරමී කියන්නෙ පරතෙරටම, දාන පාරමී කියන්නෙ දානයේ පරතෙරටම පූරණය කරනවා කිසිවෙකුට ළංවිය

නොහැකියි. ඒ දානයට කිසි කෙනෙකුට ළංවිය නොහැකියි. හිතාගන්න බෑ, දැන් යශෝධරා උත්තමාවියගේ විස්තර තියෙනවා, යශෝධරා තමන්ට දාව දරුවො දන් දීලා තියෙනවා, මහබෝධි සත්ත්වයො. ඒ දරුවො දන් දුන්නා කියන එක අහලා යශෝධරා සංසාරේ සිරසේ දෑත් තියාගෙන සාදූ මාගේ ස්වාමියාගේ අදහස ඉටුවේවා කියලා ප්‍රාර්ථනා කරලා තියෙනවා. ඒ වගේ ජීවිත අසංඛෙයය ගාණක්. ඒ යශෝධරාගෙ කතාවනේ. එතකොට යශෝධරා අසංඛෙයය ගාණක් අනුමෝදන් වුනේ, මහාබෝධි සත්ත්වයෝ අසංඛෙයය ගාණක් දරුවො දන් දුන්න නිසානෙ. බුද්ධත්වය නිකන්ද ලැබෙන්නෙ, ඊළඟට යශෝධරාව දන්දීලා යක්ෂයන්ට, ඒ යක්ෂයෝ චර චර ගාලා කනකොට, ඒ යක්ෂයන්ගේ දත් පාරක් ගානෙ තමන්ගේ ස්වාමියාගේ ලොව්තුරා සම්බුදු බවට සාදූ සාදූ කියලා යශෝධරා අනුමෝදන් වෙලා වෙනවා. යක්ෂයො තමන්ගේ ඇඟ හපද්දි, භක්ෂණය කරද්දි. එතකොට ඒ යශෝධරාවගේ කතාව. එතකොට තමන්ට ගොඩාක් ආදරේ තමනුත් ගොඩාක් ආදරේ - ඇයි වෙස්සන්තර ජාතකයේ මන්ත්‍රී දේවිය දන් දුන්නු වෙලාවෙ කියනවා මට මේ ලෝකෙ වෙන ස්ත්‍රියක් ප්‍රිය නෑ කියනවා, මේ මන්ත්‍රී දේවිය තරම්. එච්චර ආදරෙයි. ඒ සෙනෙහෙවන්ත බිරිඳ තමයි දන්දුන්නෙ. එතකොට තමන්ට එච්චර සෙනෙහෙවන්ත, එච්චර ආදරේ තියෙන තමන්ගේ බිසව දන් දීලා ඒ දනට ආපු බ්‍රාහ්මණයා යක්ෂයෙක්. වෙස්වළාගෙන ඇවිල්ලා තියෙන්නෙ. ඒ යකා තමන්ට ජේන්නම සක්මනේ කෙළවර චර චර ගාලා කනකොට එය ඉවසාගෙන හිටියා කියලා යමක් ඇද්ද, මහා බෝධි සත්ත්වයන්ගේ දාන පාරමිතාව ආශ්චර්‍යයියි, අද්භූතයි. එහෙමයි ලොව්තුරා සම්බුදු වුනේ. ඒ බුදුරජාණන් වහන්සේ නමක් ලෝකයේ පහළ වීම ඒකාන්ත ශ්‍රේෂ්ටයි. බුදුරජාණන් වහන්සේලා දෙනමක් මේ ලෝකෙ පහළ වෙන්නෑ පින්වත්නි. මක්නිසාද, බුදුරජාණන් වහන්සේලා දෙනමකගේ ආනුභාවය මේ පොළොවට දරන්න බෑ, මේ මුළු පෘථිවියටම එක බුදු කෙනෙක්ගේ සිරිපා තමයි දරන්න පුලුවන්නෙ. මේ පෘථිවිය දෙස බලන්න. ලෝකය ගැන සමීක්ෂණය කරන, ඊළඟට මේ ලෝක සිතියම් අධ්‍යයනය කරන දරුවන්ට මේක තේරෙයි. ඊළඟට පිටරටවල් වල ගුවනින් සංචාරය කරපු අයට තේරෙයි, පෘථිවිය කියන එක කොච්චර සුවිසල් ද කියලා. එච්චර මහා පෘථිවියේ කෝටි ප්‍රකෝටි ගාණක් ජනයා ඇතිවුනත් මේ පෘථිවියට කිසිම චංචල භාවයක් නෑ. නමුත් යම් දවසක බුදුරජාණන් වහන්සේලා දෙනමක් එකපාර පහළ වුනොත් මේ පෘථිවිය සුණුවිසුණු වෙලා යනවා. හේතුව තුන්වෙනි බුදු සිරිපාවක් දරන්න බෑ මහ පෘථිවියට. මුළු පෘථිවියට නෙවේ, මුළු සක්වලටම. සක්වලම

සුණුවිසුණු වෙනවා. එච්චර ගුණ කඳක්. ඒ නිසා තමයි මව්කුසින් බිහිවෙලා පළවෙනි සිරිපා සටහන පොළොවේ තියනකොට මිහිමඬල බලවත් සේ කම්පා වෙන්න ගත්තෙ. එච්චර ආනුභාවයක් අපි සරණ ගිය තථාගත අර්හත් සම්මා සම්බුදු රජාණන් වහන්සේගේ තියෙනවා පින්වත්නි. ඉතින් බුදුරජාණන් වහන්සේලා අපි කියමු එක මහා පුරුෂයෙක් - නාගසේන මහරහතන් වහන්සේ විස්තර කරන්නෙ. - මහා පුරුෂයෙක් දරාගන්න පුලුවන් නැවක් තියෙනවා. ඒ නැවටම ඒ ප්‍රමාණයේ ඒ උසම තියෙන ඒ මහතම තියෙන ඒ බරම තියෙන කෙනෙක් නැවට ගොඩවුනොත් එහෙම එක පුරුෂයයි නම් දරාගන්න පුලුවන්නේ ඒ නැව ගිලෙනවා. ඉතින් ඒ වගේ බුදුරජාණන් වහන්සේලා දෙනමක් එක සක්වලක උපදින්නෑ. එක සක්වලකට එක බුදු කෙනෙකුයි දරාගන්න පුලුවන් වෙන්නෙ. ඊටපස්සෙ පින්වතුනි මේ ලෝකෙ සුවිසල් දේවල්, නාගසේන මහරහතන් වහන්සේ විස්තර කරනවා මේ සක්වලෙන් පෘථිවිය කියන එක ඒ තරම්ම සුවිසාල දෙයක්. දැන් අර බුදුවරු දෙනමක් එකපාර පහළ වෙන්නෑ කියන එක නාගසේන මහරහතන් වහන්සේ විස්තර කරනවා ඒකට හේතුව තමයි දස දහසක් ලෝක ධාතුවට සක්වලට විතරක් නෙවෙයි පින්වත්නි, මේ දස දහසක් ලෝක ධාතුවට උසුලා දරාසිටියෙ හැක්කේ එක් බුදුරජාණන් වහන්සේ නමක් පමණි. එකම තථාගතයන් වහන්සේ නමකගේ පමණක් ගුණස්කන්ධය දරාගෙන සිටියි. එච්චරකට ගුණවත්. ඒකනේ මා පිරූ ධර්මය මා පිරූ ගුණස්කන්ධය ඒ ධරනී මාතාව නුඹ නොදන්නෙහිද කියලා තමන්ගේ ශ්‍රී හස්තය මහපොළොවට තියනකොට මාරයා සටන් කරද්දී. මේ පොළොව මුහුදු රැල්ලක් වගේ කම්පා වෙන්න පටන් ගත්තනේ මේ පෘථිවි තලයම. මෙහෙම නිකන් හෙල්ලුනා නෙවෙයි, මුහුදු රැල්ලක් වගේ, බුදුරජාණන් වහන්සේ වැඩ හිටපු තැන ඉඳලා රියන් තිහක රවුමට දුර ප්‍රමාණය ඉතුරු වෙලා අනිත් භූමිය කම්පා වෙන්න ගත්තා. බුදුරජාණන් වහන්සේ හිටපු තැන ඉඳලා රියන් සීයක් දුරින් තමයි මාරයා ඉඳලා තියෙන්නෙ. අදටත් ඒ මාරයා වැටුනු තැන ගයාවේ වජිරාසනය ළඟ තියෙනවා. ඒ වැටුනෙ පොළොව එහෙම මුහුදු රැල්ල වගේ ඉස්සෙන පහත්වෙන නිසා. මේ එක පාරමිතාවක් සිහි කරලා මහපොළොවට ශ්‍රී හස්තය තැබූ මොහොතේ. තථාගත බුදුරජාණන් වහන්සේට යම් අරමුණකින් සාගරය දෙස මොහොතක් බැලුවොත් ඒ නේත්‍ර දර්ශනයෙන්ම සාගර ජලය වියළා දමන්න පුලුවන් කියනවා. එතකොට මේ සාගර ජලය වියළෙන්නේ පින්වතුනි හයවෙනි ඉර පෑව්වට පස්සෙ. ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේගේ නේත්‍රයේ තියෙන රශ්මිය ඉරවල් හයකට, ඉරවල් හතකට වඩා

ආනුභාවසම්පන්නයි. බුදුරජාණන් වහන්සේට යම් අරමුණකින් මහ පෘථිවිය දෙස මොහොතක් බලාගෙන හිටියොත් ඒ අරමුණින්, මේ පෘථිවිය අළු කරවන්න පුලුවන්. එච්චර ඍද්ධියක් තිබ්බා. මේ පෘථිවිය අළු වෙන්නේ ඉරවල් හතකින්. එතකොට සූර්ය මණ්ඩල හතකට වඩා ආනුභාවයක් බුදුරජාණන් වහන්සේගේ නේත්‍රයේ තිබ්බා. නමුත් ඒ බුදුරජාණන් වහන්සේගේ නේත්‍රය උඩින් තෙත් ගතියක් තියෙනවා, ඒ තෙත තමයි මහා කරුණාව. ඒ මහා කරුණාවෙන්, බුදු කරුණාවෙන් දෑස තෙමී තෙමී තියෙන්නෙ. ඒ නිසා ඒ බුදුරජාණන් වහන්සේගේ නෙත් සඟළ තෙත් වෙලා තියෙන්නෙ කරුණාවෙන්. ඒ නිසා ඒ බැල්මෙන් කිසි කෙනකුට හානියක් සිද්ධ වෙන්නෙ නෑ. මොකද ඒ ශක්තිය මහා බලය කරුණාවෙන් තෙත් වෙලා කරන්නෙ. ඒ නිසා කෙනෙක් දෙස බැලුවොත් ඔහුගේ දුක් නැතිවෙනවා. ඔහුගේ ගින්දර නැතිවෙනවා. ඔහුගේ දුක නැමැති ගලන කඳුල තමයි වියළිලා යන්නෙ. කෙලෙස් වලින් දැඩි වූ සිත තමයි සුණුවිසුණු වෙලා යන්නෙ. ඒ බුදුරජාණන් වහන්සේගේ නෙත් සඟළ. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේලා දෙනමක් පහළ වෙන් නෑ. දස දහසක් සක්වළට. තථාගතයන් වහන්සේ, ඉතින් එක්වරම අන්‍ය වූ දෙවැනි බුදුවරයෙක් ලෝකයේ පහළ වුනොත් දැන් රජතුමා කියන විදියට පහළ වෙනවා නම් මේ දස දහසක් ලෝක ධාතුවලට උසුලා ගන්නෙ නොහැකිව සැලි සැලී යනු ඇත. කම්පා වනු ඇත. යටට නැමෙනු ඇත. උඩට නැමෙනු ඇත. විසිරෙනු ඇත, නැසෙනු ඇත, වැනසෙනු ඇත. යහපත් අයුරින් පෘථිවිය තියෙන විදියට තියෙන්නෑ, සක්වළ තියෙන විදියට තියෙන්නෑ. ඉතින් නැවේ උපමාව කියලා කියනවා රජතුමනි මම තව කාරණාවක් කියන්නම්. ඒ තමයි දසදහසක් ලෝක ධාතුවට බුදුරජාණන් වහන්සේගේ එකම ගුණස්කන්ධයක් දරාගන්න පුලුවන් එක බුදු කෙනෙක්ගේ. දෙවෙනි බුදු කෙනෙක් පහළ වුනොත් මේ පෘථිවිය, මේ සක්වළ, දස දහසක් ලෝක ධාතුව සැලී කම්පා වෙලා යනවා. මහරජතුමනි, උගුර මට්ටම දක්වා එක්කෙනෙක් ආහාර ගත්ත, ප්‍රණීත ආහාර අරන් පුරුෂයෙක් හිටියොත් ඒ පුරුෂයාට ඒ ගත්ත ප්‍රමාණයටම ආහාර ටිකක් ආයෙ කැව්වොත් මොකද වෙන්නෙ කියලා ඇහුවා, ඒ පුරුෂයා ඉවරයි. ඒ වාගේ මේ පෘථිවියට දරාගන්න පුලුවන්නෙ එක බුදු කෙනෙක්ගේ ගුණස්කන්ධයක් විතරයි. එතකොට හිතාගන්න පින්වතුනි මේ පෘථිවියේ කෝටි ප්‍රකෝටි ගාණක් ප්‍රාණීහු පහළ වෙනවා. සත්ත්වයෝ පහළ වෙනවා පොළොවට දැනෙන්නෙ වත් නෑ. එක බුදු කෙනෙක් පහළ වෙච්චි ගමන් මේ ධරනී මාතාවට මේ ලෝකෙ ඉන්න මිනිස්සු හරි බරයි. නමුත් මේ ලෝකෙට මුණිවරයාණන් වහන්සේලා තමයි ධරනී

මාතාව සැනසුවේ. ඒ නිසා ඒ භාග්‍යවතුන් වහන්සේ, රහතන් වහන්සේලා පිරිනිවන් පාද්දි පොළොවෙ සල සලා ඉකි ගගහ මහපොළොව හැඬුවා. අපි ඒකට කියන්නෙ කම්පා වෙනවා කියලා. මහපොළොව හැඬුවා. ඇයි ඒ? කල්ප අසංඛෙය්‍ය ගාණකට කල්ප ගාණකට පොළොවට බරක් නැති උත්තමයෙක්. ඊටපස්සෙ කියනවා රජතුමනි, බුදුරජාණන් වහන්සේලා, තියෙනවා කරත්තයක් සම්පූර්ණයෙන් මැණික් වලින් පුරවලා තියෙනවා. එතකොට එච්චරයි දරාගන්න පුලුවන්නෙ. එච්චරයි මැණික් ගොඩක් කරත්තෙට දරාගන්න පුලුවන්. ඒ වගේම මැණික් ගොඩක් ආයෙ දැම්මොත් මොකද වෙන්නෙ. අනේ ස්වාමීනී කරත්තෙ පුපුරා යයි. ආන්න ඒ වගේ තමයි බුදුරජාණන් වහන්සේලා ගුණයෙන් අධිකයි. ගුණධර්මයන්ගෙන් අධිකයි. ඒ නිසා මහපොළොවට වුනත් දරාගන්න පුලුවන්නෙ එක බුදුකෙනෙක්ගේ ගුණය විතරයි. ඒක තමයි පින්වතුනි බුදුරජාණන් වහන්සේ කියන්නෙ අසාමාන්‍ය උත්තමයන් වහන්සේ නමක්. ඒ නිසා දෙනමක් උපදින්නෑ කියලා කියනවා. මහරජාණෙනි, බුදුරජාණන් වහන්සේ, බුදුරජාණෝ අග්‍ර වන සේක. බුද්ධ කියන වචනයක් ඇද්ද, ඒක අග්‍රයි කියලා කියනවානෙ. දෙනමක් පහළ වුනොත් අග්‍රයි කියලා නෑ. අග්‍ර කියන දේ එකයි තියෙන්නෙ. ඉහළම තියෙන්නෙ. ඒ නිසා තමයි කියනවා බුදුරජාණන් වහන්සේ තුන් ලෝකෙටම අග්‍ර නිසා එක්කෙනයි පහළ වෙන්නෙ. කියනවා මහරජාණෝ, බුදුරජාණෝ විශිෂ්ට වන සේක. බුදුරජාණෝ උත්තම ගුණ ඇති සේක. පරම උත්තම වන සේක. බුදුරජාණෝ අසම වන සේක. බුදුරජාණෝ අසමසම වන සේක. බුදුරජාණෝ අප්‍රතිම වන සේක. බුදුරජාණෝ අප්‍රතිභාග වන සේක. බුදුරජාණෝ අප්‍රතිපුග්ගල වන සේක. බුදුරජාණන් වහන්සේ මෙසේ ශ්‍රේෂ්ට වන සේක. බුදුරජාණන් වහන්සේගේ මේ ලෝකේ ධර්මතාවයක් තමයි බුදුවරු දෙනමක් එකවර පහළ වෙන්නෑ. මහරජාණෙනි, ලෝකයේ අන්‍ය වූ සුවිශාල දෙයක් ඇත්නම් එයද ඇත්තේ එකක් වශයෙනි. මහරජාණෙනි, පෘථිවිය යනු ඉතා මහත් දෙයකි. එය ද එකකි. සාගරය යනු සුවිශාල දෙයකි. එය ද එකකි. සිනේරු පර්වතය යනු සුවිශාල දෙයකි. එය ද එකකි. ආකාශය යනු සුවිශාල දෙයකි. එය ද එකකි. සක්දෙවිඳු යනු සුවිශාල චරිතයකි. එය ද එකකි. මාරයා යනු සුවිශාල චරිතයකි. එය ද එකකි. මහාබ්‍රහ්මයා යනු සුවිශාල චරිතයකි. එය ද එකකි. තථාගත අර්හත් සම්මා සම්බුදු රජාණන් වහන්සේ යනු අතිශයින්ම සුවිශාල සකල ගුණධර්මයන්ගෙන් උත්තම ගුණධර්ම රත්නයන්ගෙන් පිරී පවතින අසිරිමත් චරිත රත්නයක්. එය ලෝකයේ එකම එකකි. යම් තැනක සුවිශාල පෘථිවිය ආදී

හටගන්නේද එහිලා එබඳු දෙයක්, පෘථිවිය හටගත්තට පස්සෙ එතනම පෘථිවියක් හටගන්න බෑ කියනවා. ආනන්ද ඒ වගේ තථාගතයන් වහන්සේ ලෝකෙ පහළ වුනොත් ආයේ බුදුවරු ලෝකෙ පහළ වෙන්නෑ. එක බුදු කෙනයි. මේ තරම් සොඳුරු පිරිසිදු ධර්මයක් තියෙද්දින් අද කාලෙ කවුරුහරි බුදුවුනා කියනකොට මිනිස්සු සාදු කියනවානෙ. ඇත්තටම මිනිස්සුන්ට මේ ධර්මය අහන්න නොලැබීම කොයිතරම් අවාසනාවක්ද. ගුණස්කන්ධයක්නෙ බුදුරජාණන් වහන්සේ කියන්නෙ. අපිට තියෙන්නෙ සරණ යන්නනෙ. අද කාලෙ පසේ බුදුවරු පහළ වෙන්නෑ, පසේ බුදුවරු පහළ වෙන්නෙ බුදුරජාණන් වහන්සේට කලින්. එතකොට බුදු කෙනෙක් පහළ වුනාට පස්සෙ ඊළඟට තියෙන්නෙ ශ්‍රාවකයො. ඒ ශ්‍රාවකයා බුදුරජාණන් වහන්සේගේ වචනය කියන්නෙ. ඒ නිසා මේක මිනිස්සුන්ට තේරෙන්නෑ කියන එක කොයිතරම් අභාග්‍යයක්ද. පින්වතුනි සරණ යන්න, මේ මුඛයෙන් බොහෝ ගුණ කියන්න, තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේම. මේ බුදුරජාණන් වහන්සේගේ ගුණස්කන්ධය සිහි කරන එක, අහන එක, කියන එක කොච්චර පින් ද කියනවා නම්, එදා විපස්සී තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ එක්තරා මානවකයෙක් බුදුගුණ කිය කියා ගියා. ඒක ආරංචි වෙලා රජ්ජුරුවන්ට රජ්ජුරුවෝ කරත්තයක් දුන්නා, උඹ කරත්තයේ බුදු ගුණ කිය කියා පලයන්. කරත්තයේ බුදුගුණ කිය කියා යනවා. කාලයක් ගියාට පස්සෙ, අවුරුදු අසූදාහක් ඒ කාලයේ ආයුෂ. ආරංචි වුනා තවත් කිය කියා යනවා. ඊටපස්සෙ මොකද වුනේ, එහෙනම් අශ්වයෙක් දීපං තවත් ඈත ගම්වලට යන්න. අශ්වයෙක් දුන්නා. ඊටපස්සෙ බුදුගුණ කිය කියා යනවා. ඊටපස්සෙ ආරංචි වුනා තවම යනවා. ඊටපස්සෙ ඇතෙක් දුන්නා. මහා තේජාන්විතව බුදුගුණ කියන්න. ඇතා පිටම බුදු ගුණ කිය කියා යද්දින් අවුරුදු අසූදාහ ගෙවිලා මැරුණා. සුගතියේ ගියා කල්ප අසූ දාහක් සුගතියේ. අපේ බුද්ධ ශාසනේ ඉපදුනා සංතත ඇමති කියලා. බීලා රාජ සම්පත්තියෙන් ගොඩාක් සුරා මතින් වෙලිලා නාටිකාංගනාවකට බොහෝ සේ පෙම් බැඳලා උයනට යනවා. බුදුරජාණන් වහන්සේ ඇතින් යන කුමාරයාව දැක්කා. හිනා පහළ කලා. ආනන්ද ස්වාමීන් වහන්සේ අහනවා, ස්වාමීනී ඇයි? ආනන්ද ඔය රාජ කුමාරයා මේ සංතත ඇමතියා අදම අර්හත්වයට පත්වෙලා අදම පිරිනිවන් පානවා කිව්වා. හිතාගත නොහැකියි මේ බීලා කුමාරිකාවක් එක්ක උයනට යන කෙනා, කොහොමද මේ බුදු කෙනෙක්ගේ ඥාණය පින්වත්නි. පුදුම සහගතයි. පුදුම සහගතයි ශාස්තෘන් වහන්සේගේ ඥාණය. උයනට ගිහිල්ලා නටනකොට,

නටලා නටලාම අර ප්‍රියමනාප නාටිකාංගනාව මැරුණා. ඒ ශෝකය රජ්ජුරුවන්ට දරාගන්න බැරිවුනා. ඊටපස්සෙ ඒ ශෝකය දරාගන්න බැරිවෙලා, ඉතින් ඒ ශෝකය පිටින්ම ඇතා පිටින්ම ආපහු එනවා. බුදුරජාණන් වහන්සේ ඔහුට ධර්මය දේශනා කලා. ඇතා පිටම ධර්මය අවබෝධ කලා. ඇතා පිටම අවබෝධ කරලා, ඇතා පිටම ඍද්ධි ප්‍රාතිහාර්ය දක්වලා ඇතා පිටින් ආකාශයට පැන නැගිලා ආයු ගෙවිලා එහෙම්මම පිරිනිවන් පෑවා. ඇතා පිටමයි බුදු ගුණ කිව්වෙ, ඇතා පිටමයි පිරිනිවන් පෑවෙ. මේ අර්හත්වයට පත්වුනේ. සුලු පටු දෙයක්ද මේක. මොකක්ද කරලා තියෙන පින. බුදු ගුණ සිහි කිරීම, බුදුගුණ කීම, අන් අය සමාදන් කිරීම. ඔබගේ කටින් ද බුදු ගුණ කියන්න. ඔබට කියන්න, ඊට කලින් ඒ ධර්මයට පැහැදෙන්න ඕන. මේ බුද්ධ ශාසනයේ පුරුදු කරන්න ඕන ගුණධර්ම ටිකක් තියෙනවා. දැන් අද මම ඔබට යම් සූත්‍ර කාරණාවක් කියලා දෙනවා, ඒකෙ අවසානෙට තියෙනවා මොකක්ද බුද්ධ ශාසනය තුළ ඔයාලා බලවත්ව පුරුදු කරන්න ඕන කියලා. පින්වතුනි මේ දේශනාවෙ නම පුණ්‍යාභිසන්න සූත්‍රය. මේ සූත්‍ර දේශනාවේ තියෙනවා බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, මේ පින් ගංඟාවක් ගලාගෙන යනවා වගේ කුසල් ගංඟාවක් ගලාගෙන යනවා වගේ කරුණු තියෙනවා. ඒ කියන්නෙ මේ කරුණු හතරක් තිබුනොත් ඒ කරුණු හතරෙන් පින් ගලනවා, කුසල් ගලනවා. ඊටපස්සෙ සැපයට ආහාරය තමයි, දැන් අපිට ජීවත් වෙන්න ආහාර ඕනනෙ. ඒ වගේ සැපයට ආහාරය තමයි මේ කාරණා හතර. ඊටපස්සෙ තමයි සෝවග්ගිකා, සුගතියේ උපදින්නෙ මේ කාරණා හතරෙන්. සුඛවිපාකා, සැප විපාක සැලසෙන්නෙ මේකෙන්. සග්ගසංවත්තනිකා, සුගතියේ උපත පිණිස පවතිනවා. ඉත්ථාය කන්ථාය මනාපාය හිතාය සුඛාය සංවත්තති, ඉෂ්ට කාන්ත මනාප සැපය උපද්දවනවා සුගතිය තුල. ඉධ භික්ඛවෙ අරියසාවකො බුද්ධෙ අවිත්තප්පසාදේන සමන්නාගතෝ හෝති, ඉතිපිසෝ අරහං සම්මා සම්බුද්ධෝ, බුදුරජාණන් වහන්සේගේ නව අරහාදී බුදුගුණ ගැන හරී ප්‍රසාදයෙන් ඉන්නවා. බුදුරජාණන් වහන්සේගේ ගුණ ගැන, උන්වහන්සේගේ විරාගය, වීතද්වේශී බව, තරහ නැති බව, මෝහය නැති බව, බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් විජ්ජාචරණ සම්පන්න ගුණය, උන්වහන්සේ අවබෝධ කරගත් ධර්මය ලෝකයේ කිසිකෙනෙකුට අවබෝධ කරගන්න බැරිවෙච්ච දෙයක් බව. ජේනවද පහුගිය දවස්වල වසංගත කරදර පැතිරිලා යනකොට කිව්වෙ අපේ දෙවියන්ගේ සාප කියලා කිව්වා, එක එක ආගම් වල අය. ඊළඟට දෙවියෝ මිනිස්සු අඩු කරන්න කරපු දෙයක් කියලා කිව්වා. නමුත් ඒ අතර

බුදුරජාණන් වහන්සේ සරණ ගිය ශ්‍රාවකයාට පසක් වුනා, බුදුරජාණන් වහන්සේ සබ්බේ සංකාරා අනිච්ඡා කියලා යමක් වදාළා ද ඒක සත්‍යයක් කියලා ඇස් පනාපිට පේන්න ගත්තා. කර්ම විපාකයක් තිබ්බොත් මුහුදේ හිටියත්, ආකාශේ හිටියත්, කොහේ හිටියත් ගැලවෙන්න බෑ කියලා බුද්ධ වචනයක් තිබ්බා. ඒක දැක්කද ඇමරිකාවේ මිනී එක එක පෝරණුවක දාද්දි මිනී දාපු මනුස්සයා මහන්සියට ට්‍රොලියක නිදාගෙන ඒ මනුස්සයත් දැම්මා ගින්දරට. කොහොමද කර්ම විපාක. කොහේ ඉඳලද මේවගෙන් බේරෙන්නෙ. පුදුම සහගතයි. මිනිස්සු බලාගෙන ඉන්නවා කොරෝනා වලින් මැරෙනකල්. ඒක අස්සෙ පොඩි එවුන් ළිඳට දාලා මැරෙනවා. මෙහෙ ඇක්සිඩන්ට් වලින් මැරෙනවා. ගහගෙන මැරෙනවා. වෙඩිතියාගෙන මැරෙනවා. හිරෙත් ගහගෙන මැරෙනවා. මිනිස්සු මැරෙන හැටි. ආයුෂ ගෙවිලා මැරෙනවා. පුදුම සහගතයි. මරණය සත්ත්වයාට උරුමයි කියපු බුද්ධ වචනය, නත්ථි ජාතස්ස අමරණා, අමරණීය බවක් නෑ කියලා කියපු වචනය කොච්චර සත්‍යයක්ද. එතකොට මිනිස්සු මේ මුඛවාඩම් දාගෙන, ගෙවල් වලට වෙලා බෙහෙත් බිබී මේ රැකෙන රැකිල්ල, ඇයි රැකෙන්නෙ, ජීවත්වෙන්න අමාරු නිසානෙ. කිච්චො මනුස්ස පටිලාභො කිච්චං මච්ඡාන ජීවිතං, උපන් මනුස්සයාට ජීවිතේ රැකගන්න එක අමාරුයි කියපු බුද්ධ වචනය නේද මේ. දුක් විඳින මිනිස්සු දිහා හිතලා බලන්න කිව්වා, මමත් සංසාරෙ ඔය විදියට දුක් විඳලා තියෙනවා කියලා. හයියෙන් හුස්ම ඇද ඇද, ඒ කොරෝනා රෝගීන් මැරෙන්නෙ වතුරෙ ගිලුනු එක්කෙනෙක් වගේ හුස්ම හිරවෙලා කියනවා. ශරීරයේ ඔක්කොම අවයව අඩපණ වෙනවා කියනවා. ඒ වාගේ අපි කොච්චර නම් මැරිලා ඇතිද. අපි ලෙඩ ඇඳක මැරෙන නිසා ඔය විදියට අපි හිතනවා. වතුරෙ ගිලිලා මැරෙනකොට මේ ඇතුලට ගිහිල්ලා උඩට ඇවිල්ලා එක හුස්මක් ඇවිල්ලා ආයෙ ඇතුලට ගිහිල්ලා උඩට ඇවිල්ලා එක හුස්මක් ගිහිල්ලා ආයෙ ඇතුළට ගිහිල්ලා උඩට එනකොට එක හුස්මක් යනකොට කොච්චර වේදනාවක්ද එතන. එතකොට හිතන්න මේ දුක කියන එක. බුදුරජාණන් වහන්සේ වදාළා අපි ඒවා දුක් වින්දා කියලා හිතන්න කියලා. මේ සංසාරේ වැඩි තරමක්ම අපි ව්‍යසන වලට පත්වුනා. බුද්ධ වචනය සනාත වුනාද නැද්ද. සල්ලි වලට පෙරේතකම් කර කර හිටපු මිනිස්සු අසරණ වෙච්චි හැටි දැක්කද. මේ උපන් සත්ත්වයා ජරා මරණ වලින් වළක්වන්න කිසි දෙයක් මේ ලෝකෙ නෑ කියලා කියපු බුද්ධ වචනයේ සත්‍යය දුටුවාද? මේ පුංචි ළමයි අතමිටේ අරගෙන එන්නෙ ජරා මරණ කියන එක දුටුවා ද? ධම්මං විනානත්ති පිතාචමාතා, ධර්මය මිසක් අම්මා තාත්තා නෑ කියන වචනය තේරුණාද?

එක්කෙනෙකුට හැදිච්ච ගමන් හැදිච්ච එක්කෙනා ඉස්පිරිතාලෙට දානවා, ගෙදර ඉන්න අය නිරෝධායනයට දානවා, මිනිය වත් බලන්න කෙනෙක් නෑ. බුදුරජාණන් වහන්සේ වදාළ දේ සත්‍යයක්ද නැද්ද. තෙරුවන් සරණ නැති කෙනා, සිල් නොරැකපු කෙනා, පින් නොකරපු කෙනා මරණ මොහොතේ බය වෙනවා කියලා කියපු එක දැක්කද නැද්ද. ලෝකයේ වැඩිම අද මරණ සිද්ධ වෙන්නෙ හාට් ඇටෑක් වලින්, ප්‍රෙෂර් වැඩිවෙලා. ඒ මිනිස්සු රෝගයටත් වැඩිය හිතන්න ගන්නවා. දැක්කද. ඊළඟට හොඳට තේරුම් ගන්න මේ සසර. මේ සසර තේරුම් ගන්න. පහුගිය දවස්වල ගෙවල්වල රණ්ඩු වැඩියි, මේ ඇඳිරිනීතියත් එක්ක. ඊළඟට ළමා අපචාර සීයට තිහකින් වැඩිවෙලා. ඇයි මේ, ඔක්කොම එක තැනක ඉන්නකොට එනවා කෙලෙස ගොඩ ඔක්කොම. පවුලේ පස් දෙනාට එකළඟ ඉන්න බැනෙ හිනාවෙලා, සතියක් හිනාවෙලා, කාලා බීලා ඉන්න බැනෙ. දැන් තේරුම් ගන්න ධර්මය. සතියක් එක තැන ඔය විදියට ඉන්න බැරි නම්, මැරෙන මොහොතේ අවුරුදු දෙක තුන හතර, මැරෙන මොහොතේ ලෙඩ ඇඳට වෙලා ඉද්දින් කොහොමද ඉන්නෙ. තරහා එයි. මතක් වෙවී එයි බුර බුරා තරහව. ගෙවල් ඇතුලෙ ඉන්න බෑ කඩාගෙන - ඇමරිකාවේ මිනිස්සු මුඛවාඩම් වීසි කරලා වීදි වලට පැනලා, මුහුදට ගිහිල්ලා නාලා අපිට ඕන දෙයක් වෙද්දෙන් කියලා අපිට සතුටින් ඉන්න ඕන කියලා. ඇයි එක තැනක ඉඳලා මනසිකාර කරන්න දෙයක් නෑ. එයාලා පුරුදු වෙලා තියෙන්නෙ ඇවිදලා, එකට ඉඳලා, කතාසල්ලාපයෙන් තේ එකක් බීලා, මුහුදු වෙරළට ගිහිල්ලා, පාක් වලට ගිහිල්ලා, සතුට උපද්දවන්න පුරුදු වෙලා තියෙන්නෙ. එක්තැන් වුනාට පස්සෙ මිනිස්සු කොච්චර අසරණ වෙනවද. බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනාට එක්තැන් වෙනවා කියන එක කොච්චර හොඳද. දැන් මේ දවස් ටිකේ කොච්චර බණ ඇහුවද, බුදුරජාණන් වහන්සේ සරණ ගිය ශ්‍රාවකයා. එතකොට බුද්ධ පූජාව තිබ්බද ශ්‍රාවකයා කොච්චර. ඊළඟට ගෙවල් ඉඳලා සමහර අය බණ භාවනාව. ඊළඟට දන් දෙන ඒවා ගැන කල්පනා කරනවා. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයා. පින් සිතිවිලිනෙ. පින් සිතිවිලිවලනෙ ඉන්නෙ. මැරුණත් දන් දෙන එක ගැනනෙ හිතන්නෙ. ආනිසංස තියෙනවානෙ. දන්දීමට සිතීමේ. ඊටපස්සෙ ගෙවල්වල ඉද්දින් ධර්මය අහලා, බණපොත් බලලා, පින්කම් වලට සම්බන්ධ වෙලා, අනිත් අය දැනුවත් කරලා, කොච්චර පින් කරගත්තද. ඊළඟට නිතර නිතර අපි කියලා දුන්නා ගෙදර ඉද්දින් පින් සිහි කරන්න, ධර්මය සිහි කරන්න, අනිත්‍යය සිහි කරන්න. දැන් අර අසනීප වුනු වෛද්‍යවරයෙක් අපිත් එක්ක මතක් කලා, එයා අසනීප වෙච්චි ගමන් කොරෝනා හැදිච්චි ගමන්

මරණය ගැනම දේශනා අහන්න ගත්තා. දවසකට අවම දේශනා පහක් අහනවා. අනිත් අයටත් කලින් එයා සුවපත් වුනා. එයා මරණයට සූදානම් වුනා. දැන් නිකන් ඉන්න අය නිකන් ලෙඩවෙලා මැරෙනවා වෙන ලෙඩ හැදිලා මරණයට බය වෙලා. ලොව්තුරා සම්මා සම්බුදු රජාණන් වහන්සේ තෙරුවන් සරණ ගිය කෙනාට මරණය ඉදිරියේ බයක් නෑ කියලා යම් වචනයක් වදාළා නම් කොයිතරම් සත්‍යයක්ද. පින්වතුනි බුදුරජාණන් වහන්සේ සරණ යන්න. බය නැතිව මැරෙන්න පුලුවන්. මලමුත්‍රා පහ කරගන්නැතිව මැරෙන්න පුලුවන්. සිනහ වෙවී මැරෙන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ඉතින් ඒ නිසා පින්වත්නි බුදුරජාණන් වහන්සේ සරණ යාම ඒ තරම් ශ්‍රේෂ්ටයි. ඉතින් බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුණ කඳ සත්‍යය, සම්මා සම්බුද්ධ බව, මේ ධර්මය වදාළේ පින්වතුනි ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සම්බුදු මුවෙන්. එක්කෙනෙක් බේරගන්න තවත් කෙනෙක් ඉදිරිපත් වෙන්නෑ. ජීවිතේ දකින්න. දැකලා ආයෙ ආයෙමත් මේ දුකට එන්න එපා. මේ තියෙන දුකට ආසා කරන්න එපා. දැන් ගොඩක් ධර්මය නැති ලෝකෙ තමන් අසරණ වුනාට පස්සෙ තවත් කෙනෙක් අනේ කෝ මගේ බිරිඳ, කෝ මගේ දරුවෝ කියලා පතනවා. ඇයි ඒ ආගමේ ඒ වගේ දැක්මක් නෑ. ඔස්ට්‍රේලියාවේ පින්වතියක් පණිවිඩයක් එවලා තියෙනවා, එයාව රස්සාවකට යොදලා තියෙනවා, ඒ තමයි මේ දවස්වල තියෙන, ඇඳිරිනීතිය දැම්මට පස්සෙ ගෙවල් වලින් බහින්න බෑ, ගොඩක් දඩ. ඊටපස්සෙ ඒ අයට ඕන මිනිස්සුන්ට ඕන උපදෙස් ලබලා දෙන්න දුරකථනය ඔසවන්න තියෙන්නෙ ඈට. ඇය අපිට දන්වලා තියෙනවා ඒ තමයි එන ප්‍රවෘත්ති වලින්, එන ප්‍රවෘත්ති මොනවාද, ඒ ප්‍රේමවන්තයා කෝල් කරලා කියනවා අනේ අපි දැන් ගෙවල් දෙකක, මගේ ප්‍රේමවන්ති ඉන්නෙ අරෙහෙ, අපි මෙහෙ ඉන්නෙ. දැන් මෙච්චර දවස් ගාණක් අපිට එකතුවෙන්න බැරිවුනා. අනේ මේකට විකල්පයක් දෙන්න, මේ ඇඳිරිනීතිය මේ තියෙන වාරණ අයින් කරවන්න. ඊටපස්සෙ අවුරුදු හැත්තෑ හතරක හෝ වයෝවෘද්ධ කාන්තාවක් කතා කරලා තියෙනවා මගේ ප්‍රේමවන්තයා ඉන්නෙ අහවල් දිසාවෙ, මට ඔහු ළඟට යන්න විදියක් නෑ. මේ බලන්න මරණයත් එක පොදි බැඳ බැඳ කියන දේවල්. ඊළඟට තව අම්මා කෙනෙක් කතා කරලා තියෙනවා, ඒ අම්මා කියනවා කතා කරලා කියලා තියෙනවා, මගේ දුවට බෝයිෆ්‍රෙන්ඩ් මුණගැහෙන්න බැරිවුනා. ඇයට පිස්සු වගේ. ඒ නිසා මෙයාගේ බෝයිෆ්‍රෙන්ඩ් ළඟට ගිහින් දාන්න ක්‍රමයක් හදන්න. මේ අම්මා දුවව යවන්න මේ අහනවා කතා කරලා. කොහොමද පිටරටවල් වල තත්ත්වය. ඉතින් අපේ රටෙත් ඔය සමයං ඇති කිව්වෙ නැති

වුනාට. කොහොමද මරණය ඉදිරියේ මොනවද දැන් සිහි කරන්නෙ. දැන් පේනවද, මරණය පෙනි පෙනී තමන් විඳපු කාමයම ඉස්සරහට එනවා. කාමයම ඉස්සරහට එනවා. එතකොට මේ කාමයට පෙරේත වෙලා කාම ලෝකෙම ඉපදිලා අප්‍රමාණ දුක් කන්දරාවක් විඳිනවා. අපි මේ කාම ලෝකයේ ඉපදුනේ අපිත් කාමයට ආසා කරපු නිසානෙ. ආයෙ ආයෙමත් මේවට ආවොත් කොච්චර දුක් ද පින්වත්නි. බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා යමක් ඇත්ද, සතර අපා දුකින් උඩට උස්සලා ගන්නවානෙ. මහා සම්පතක් උපද්දවනවනෙ. මේ සරණට පැමිණිලා ඒතං සරණ මාගම්ම මේ සරණට පැමිණිලා සබ්බ දුක්ඛා පමුච්ඡති, සියලු දුකින් නිදහස් වෙන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේ වදාළ ධර්මය සත්‍යය වෙන හැටි බලන්න. බුදුරජාණන් වහන්සේ වදාළ ධර්මය සත්‍යය වෙන හැටි බලන්න. බුදුරජාණන් වහන්සේ වදාළා නේද, මේ අය එක්තැන් වුනාට පස්සෙ බාලපණ්ඩිත සූත්‍රයේ මෙතෙක් කරපු තමන්ගෙන් වෙච්චි වැරදි ටික චිත්‍රපටිය වගේ එනවා කියලා බුදුරජාණන් වහන්සේ වදාළානෙ. කන්දක ඡායාව හවස පොළොවට වැටෙනවා වගේ. දැන් දැක්කද මිනිස්සු තනිවුනාට පස්සෙ මෙතෙක් ඒ මිනිස්සු හිටියේ ඒ කාමයත් එක්ක. තනිවෙච්ච ගමන් ඒ කාමයම තමයි හිතට දැන් පේනවනෙ. මං කලින් එයත් එක්ක හිටියා, දැන් මට ඕන. මං අරයත් එක්ක හිටියා, දැන් මට ඕන. ඒ කියන්නෙ කාමයේ ඡායාව නේද මේ පේන්නෙ. මැරෙන්නෙ කොහොමද දැන්. බුදුරජාණන් වහන්සේ සරණ ගිය ශ්‍රාවකයා බුදුගුණ සිහි කර කර, දුන්නු දාන සිහි කර කර, සිල් සමාදන් වෙච්චි ඒවා සිහි කර කර, අනිත්‍යය සිහි කර කර, අර ඉතාලියෙ මෑණි කෙනෙක් කතා කරලා කිව්වා ස්වාමීනී, මුලු ඉතාලියම ගිනිගෙන කිව්වා. නමුත් මේ ශ්‍රද්ධා රූපවාහිනිය නිසා අපේ ගෙදර සිසිල් වෙලා කියලා කිව්වා. එතකොට බලන්න කොහොමද කියලා, ධර්මය නිසානෙ. ධර්මය නිසානෙ මේ යහපත. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේට තියෙන පැහැදීම සම්මා සම්බුද්ධයි කියලා විජ්ජාචරණ සම්පන්නෝ සුගතෝ ලෝකවිදූ අනුත්තරෝ පුරිසදම්මසාරථී සත්තා දේවමනුස්සානං බුද්ධෝ භගවාති කියලා පැහැදීමක් තියෙනවා නම් බුදුරජාණන් වහන්සේ වදාළා මේක තමයි කිව්වා පින් ගංගාව. පින් ගලනවා ඒ පැහැදීමෙන්. කුසල් ගලනවා. ඊළඟට මේක තමයි සැපයට ආහාරය. ඉෂ්ට කාන්ත මනාප සුගතියේ උපත සකස් කරලා දෙනවා මේකෙන්. දුක් ගෙවාදමනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ මේ විදියට ධර්මයට තියෙන පැහැදීම, සංඝයාට රහතන් වහන්සේලාට තියෙන පැහැදීම, ඊළඟට ආර්යකාන්ත සීලය, පඤ්චසීලය ආරක්ෂා කරන එක කඩ නොකොට,

ආර්යකාන්ත සීලය, බුදුරජාණන් වහන්සේ පුණ්‍යාභිසන්ද විදියට දේශනා කලා. මට කියන්න උවමනා වුනේ, බුදුරජාණන් වහන්සේ අවසානෙට දේශනා කරනවා යස්ස සද්දා තථාගතේ අචලා සුපතිට්ඨිතං, යම්කිසි කෙනෙක් තුළ තථාගත බුදුරජාණන් වහන්සේ ගැන පැහැදීම තියෙනවා නම් සෙලවෙන්නෙ නැතිව. සීලඤ්ච යස්ස කල්‍යාණං අරියකන්තං පසස්සිතං, සීලයක් තියෙනවා නම් ඔහු තුළ යහපත් ආර්යයන් වහන්සේලා ප්‍රශංසා කරන. සංඝේ පසාදෝ යස්සත්ථි උජුභූතංච දස්සනං, සංඝයා ගැන පැහැදීමක් තියෙයි නම් ඔහුගේ දර්ශනය ඍජුයි නම්, අදලිද්දෝති තණ්හාවෝ අමෝඝස්ස ජීවිතං, ඔහු දුප්පතෙක් නොවේ. ඔහුගේ ජීවිතය හිස් නෑ. තස්මා සද්ධං ච සීලංච අසාදං ධම්මදස්සනං, ඒ නිසා ශ්‍රද්ධාවත්, සීලයත්, පැහැදීමත් දහම් දැක්මත්, අනුයුංජෙයිත මේධාවී සරංබුද්ධානශාසනංති, මේකේ යෙදී වාසය කරන්න කියනවා නුවණැති කෙනා ඔය බුද්ධානුශාසනාව සිහි කරලා. එහෙනම් බුද්ධානුශාසනාව තමයි ඔබ පුරුදු වෙන්න ඕන, ශ්‍රද්ධාවටයි, සීලයටයි, පැහැදීමටයි, ධර්මය දකින එකටයි. පින්වතුනි පුරුදු කරන්න ජීවිතේ අමා මහ නිවන ඔබට ස්පර්ශ කරන්න පුලුවන්. ශ්‍රද්ධාවයි, සීලයයි, පැහැදීමයි, ධර්මය දකින එකයි. ඒ තුලින්මයි අමා මහ නිවන ලැබෙන්නෙ. එතකොට මේ බුදුරජාණන් වහන්සේ ගැන තියෙන පැහැදීම බුදු ගුණ කියලා දෙන එක, සරණේ පිහිටවන එක, ශ්‍රද්ධාවට පත් කරවන එක කොච්චර නිවනට උපකාරයිද. කොච්චර නිවනට උපකාරයිද. ඒ නිසා අප්‍රමාණ බුදුගුණ ගැන හිත පහදවා ගන්න ඕන. බුදුරජාණන් වහන්සේ සරණ යන්න ඕන. මේ තිසරණයෙන්මයි පින්වතුනි ගැලවිල්ල තියෙන්නෙ. නැත්නම් අසරණ වෙනවා කෙළවරක් නැතිව. අවසානෙ දරුවොත් යනවා පින්වතුනි තැන් තැන්වල. අනිත් එක අපි ගිහිල්ලා හිතන්නකො බට ගහලා මේ ඔක්කොමවෙලා සිහියක් නැතිවුනා කියලා. කවුරුවත් එළියෙන් ඇතුළට එන්න දෙන්නෙත් නෑ කියන්නකො. තනිවෙනවා කියන්නකො. මොනවද දැන් සිහි කරන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ගැන හිතේ, හදවතේ ඇති කරගන්න, බුදුරජාණන් වහන්සේ හදවතට ගන්න. හදවතේ තියාගන්න. එතකොට ඔබ තනිවෙනකොට බුදුකුටියත් එක්ක තනිවෙන්නෙ. එතකොට ඒ බුදුරජාණන් වහන්සේගේ ගුණ සිහි කර කර ඔබට ඉන්න පුලුවන්. ඔබට පරලොව දුගතියක් වෙන්නෑ. බුදු කෙනෙකුට පැහැදුනු කෙනා බුදු කෙනෙකුට පැහැදුනු කෙනා මෙතෙක් සංසාරයේ බුදුවූ බුදු රජාණන් වහන්සේට පැහැදිච්ච සියලුදෙනා අමා මහ නිවන් ලබලා තියෙනවා. ඒකාන්ත සත්‍යයක් මේ කියන්නෙ. බුදුරජාණන්

වහන්සේට පැහැදිච්ච කෙනා කල්ප තිස්දාහකින් හරි නිවන් දැකලා තියෙනවා. බුදුරජාණන් වහන්සේට පැහැදිච්ච කෙනා කල්ප ලක්ෂයකින් හරි නිවන් දැකලා තියෙනවා. එච්චර බුදුරජාණන් වහන්සේට තියෙන පැහැදීම ඔහුට දුකෙන් නිදහස් කරවනවා. ඉතින් ඒ නිසා ඔබ දුගතියට වැටෙන්න එපා. ඔබ අමා මහ නිවන සොයාගෙන යන කෙනෙක් වෙන්න. ඔබ දුකින් නිදහස් වෙන කෙනෙක් වෙන්න. ඒ නිසා ඔබට මේ මාවතේ මේ ඔබට ඕන නම් නිවනක් සොයාගෙන යන්න, ඒ මාවතේ හොඳම පාදම තමයි පින්වත්නි. එහෙම නැත්නම් ඔබටත් බුද්ධ ස්තූපයක් ගොඩනගා ගන්න ඕන නම්, අමා මහා නිවන නැමැති මහා ස්තූපය ගොඩනගා ගන්න ඕන නම්, පින්වතුනි ඔබට හොඳ පාදමක් ඕන. ඒ පාදම තමයි තිසරණය. බුදුරජාණන් වහන්සේ සරණ යන එක. බුදුරජාණන් වහන්සේ සරණ යනකොටම ධර්මය ගැන එනවා පින්වතුනි. සංඝයා ගැන එනවා. මේ බුදුරජාණන් වහන්සේ ගැන තේරෙනකොට අනිත් ඒවා එනවා. තිසරණයේම පිහිටනවා. ඉතින් ඒ නිසා අපි ඒ විදියට අද ඔය කරුණු කාරණා සිහි කර ගනිමු. එතකොට අද අපි කතා කලේ බුදුරජාණන් වහන්සේ සරණ යන එකේ වටිනාකම ගැන. මේවා හොඳට තේරුම් අරන් අපිට ඉදිරියට තව තව බුදුගුණ ඉගෙන ගනිමු. ඉදිරියට අපිම කියලා දෙනකල් ඉන්නැතිව ඔබත් තව බුදුගුණ සිහි කරන්න. ඒ බුදුගුණ සිහි කරන එක ශ්‍රද්ධාව සුලුදෙයක් කියලා හිතන්න එපා. ඒ නිසා අපි කාටත් මේ ගෞතම බුද්ධ ශාසනයේ උතුම් තිසරණය තුළ පිහිටලා ශාසනය තුල පිහිට පිළිසරණ ලබාගන්න භාග්‍යය උදාවේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි.

අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ 385/1, ශාන්ති මාවත, කිරිල්ලවල, කඩවත යන ලිපිනයේ පදිංචි පින්වත් අනුෂ්ක ප්‍රගීත් රණසිංහ මහත්මයා විසින්. ඉතින් එතුමාට ලොකු බලාපොරොත්තුවක් තියෙනවා ධර්ම දේශකයාණන් වහන්සේලාට සෙත් ප්‍රාර්ථනා කරන්න. ඉතින් ධර්මයේ පිහිට පිළිසරණ ලැබෙන්නේ මේ ධර්මය ස්වාමීන් වහන්සේලා දේශනා කරන නිසානේ කියන අදහස. ඉතින් ඒ නිසා එතුමාගේ ඒ සත්පුරුෂ අදහස එසේම ඉටුවේවා. ධර්මය ලෝකෙට දේශනා කරන සත්පුරුෂයන් වහන්සේලා නිදුක් නිරෝගීව දීර්ඝායුෂ ලබමින් වාසය කරත්වා කියන පැතුම එතුමා තුල තියනවා, ඒ පැතුම ඉටුවේවා කියලා පළමුවෙන්ම සෙත් පතනවා. ඒ වාගේම අද දවසේ මේ රැස් කරගත්ත සියලූම පුණ්‍යධර්මයන්ගේ ආනුභාවය රටටත් ලෝකයටත් ව්‍යසනයක් වුනු, මේ කොරෝනා වසංගතය ලෝකයෙන් දුරු වෙලා මේ රටටත් ලෝකයටත් ආරක්ෂාව වේවා, මේ මනුෂ්‍ය වර්ගයාට යහපතක්ම

වේවා, ව්‍යසන දුරු වෙලා සියලු දෙනාට සෙත් වේවා කියලා අපි මේ පින් බලයෙන් සෙත් පතනවා. ඒ වගේම සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වෙත්වා. ගෞතම බුදු සසුන ආරක්ෂා කරත්වා කියලා අපි පින් පමුණුවමු. ඒ වගේම මියපරලොව ගිය සියලු ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා. පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ තමයි මෑත භාගයේ සක්සුදක් සේ ගෞතම බුදු සසුනේ පිහිට පිළිසරණ ලබන්න තිසරණය ඕන කියන වචනය රැව් පිළිරැව් දෙන විදියට ඒ හඬ නැගුවේ ලොකු ස්වාමීන් වහන්සේ විසින්. ඇත්තටම ඒක සත්‍යයක්. තිසරණය අවශ්‍යමයි. මිනිස්සුන්ට පළුදු වෙන්නෙම තිසරණය. ඉතින් ඒ කාරුණික අනුග්‍රහයෙන් අපිට ඒ දහම් මඟ පෙන්වලා දෙන ගුරු දේවෝත්තම ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ ලබත්වා. සියලු ගරුතර සංඝයාත්, මෑණිවරුන්, අනගාරික දරුවනුත්, සියලු දෙනාට බුදු සසුනේ ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම 385/1, ශාන්ති මාවත, කිරිල්ලවල, කඩවත යන ලිපිනයේ පදිංචි පින්වත් අනුෂ්ක ප්‍රගීත් රණසිංහ මහත්මයාට මේ පින් අනුමෝදන් වී එතුමා නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, තව තව ගෞතම සසුනේ පිහිට පිළිසරණ ලබාගන්න පින්බර ජීවිතයක් ඇතිකරගන්න, සසර දුකින් නිදහස් වෙන්න, අද ධර්ම දානයේ පින හේතු වාසනා වේවා කියලා අපි පින් පමුණුවනවා. ඒ වගේම ඔබ සියලු දෙනාටත්, අපි හැදූ වැඩූ දෙමව්පියන්ටත්, අකුරු කෙරූ ගුරුවරුන්ට සියලු දෙනාට පින් සිදු වේවා. ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට පින්සිදු වේවා. ඒ වගේම ධර්ම දායකත්ව සපයන සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් උතුම් ශ්‍රද්ධාව තුළ පිහිටන්න, සීලය දියුණු කරගන්න, අපේ හිතේ පැහැදීම තව තව දියුණු කරගන්න මේ උතුම් ධර්මය දකින්න අපි කාටත් වාසනාව ලැබේවා, නිවනින් සැනසෙත්වා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. සියලු දෙනාට අසිරිමත් සම්බුදු සරණ ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=w6d70Y2Csio&list=PLalyA_suCnHx15brN1U__CvrdlW8GMhnA&index=5

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අපිට භාග්‍යය ලැබුනා දුර්ලභ මනුෂ්‍ය ජීවිතයක් ලබාගන්න. මේ දක්වා කොහොමහරි මරණින් බේරිලා හිටියා. දුර්ලභ මනුස්ස ජීවිතේ රැකගන්නටත් අපිට මේ වෙනකොට වාසනාව ලැබුනා. ඒ වගේම තථාගත ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරගන්න ලැබුනා. ශ්‍රවණය කරනවා. අප්‍රමාණ ධර්මස්කන්ධයක් අහන්න ලැබෙනවා. බුදුරජාණන් වහන්සේ ජීවමානව දැකගන්න නොලැබුනත් බුදුරජාණන් වහන්සේගේ ධර්මය තුළින් මේ බුද්ධ කාලයේ සැනසුම සුලුවෙන් හෝ කොහොමහරි අපිට ඒ බුදු සසුනේ සැනසුම ලබන්න ලැබුනා. කිච්චෝ මනුස්ස පටිලාභෝ කිච්චං මච්ඡාන ජීවිතං කිච්චං සද්ධම්ම සවණං කිච්චෝ බුද්ධානං උප්පාදෝ යනුවෙන් වදාළ මේ ලෝකයේ පරම දුර්ලභ කාරණා තුළින් සැනසෙන්න අපිට වාසනාව ලැබුනා. ඉතින් ඔබට මේ භාග්‍යය සිහිකරමින් අදත් අපි ආරම්භ කරනවා අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන. අද දවසේ මේ උතුම් දහම් වැඩසටහන ශ්‍රද්ධා රූපවාහිනියේත් ලක්විරු ගුවන් විදුලියේත් විකාශනය කරවන්න දායකත්වය දරන්නේ එකෝට්‍රේඩ් සෙන්ටර්, සේරුනුවර සහ කන්තලේ ලිපිනයේ පදිංචි පින්වත් එන්.බී.එම්. ලක්ෂිත සම්පත් මහත්මයා විසින්. නෙතුසර පුතාටත් ඒ වගේම නෙතුසඳී දියණියටත් සෙත් ප්‍රාර්ථනා කරලා ඒ දරුවන්ගේ ජීවිතයට යහපත සැලසේවා කියන අදහසිනුත්, ලෝක සත්ත්වයාට සෙත් ප්‍රාර්ථනා කරන අදහසිනුත් ඒ පින්වතුන් අද ධර්ම දානය සිද්ධ කරනවා. දැන් මේ පින්වතුන්ට අද දවසේ සිද්ධ කරන ධර්මදානය ගැන හිතලා අප්‍රමාණ සන්තෝෂයට පත්වෙන්න පුලුවන්. අද දවසේත් දහම් වැඩසටහනේ විශේෂත්වයක් තියෙනවා ඒ තමයි මෙතුවක් කල් අපි උතුම් සම්බුදු සරණ දහම් වැඩසටහනින් උතුම් තිසරණයේ තියෙන වැදගත්කම, බුද්ධානුස්සතියේ

තියෙන වැදගත්කම, බුදුරජාණන් වහන්සේගේ ජීවිතය අසා ගැනීමේ, දැන ගැනීමේ, සිත පහදවාගැනීමේ වටිනාකම කතා කලේ. නුවණ තියෙන කෙනෙක් ඉන්නවා නම් අනේ අපිටත් උතුම් තිසරණයේ බලවත්වම පිහිටන්න ඇත්නම්, පිහිටාගන්න ඇත්නම් සිත කොයිතරම් නම් යහපත් දෙයක්ද කියන සිතිවිල්ල ඇතිවෙනවා. ඉතින් ඒ බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් කතා පුවත අද තමයි ආරම්භ වන්නෙ. එතකොට පින්වත්නි මේ අද ඔබට ආරම්භ වෙනවා බුද්ධ වංශ පාලි. බුද්ධ වංශ පාලිය සාමාන්‍යයෙන් මේවා ගිහි මිනිස්සුන්ට නිතර දෙවේලේ කියවන්න ලැබෙන පොත් නෙවෙයි. භික්ෂූන් වහන්සේලාට වුනත් නිතර දෙවේලේ මේවා පාවිච්චි කරනවා අඩුයි. කරන්නෑ නෙවෙයි, කරනවා අඩුයි. ඉතින් ඒ ඛුද්දක නිකායට අයිති බුද්ධ වංශ පාලිය, මෙතුවක් කල් ලෝකයේ පහළ වුනු සූවිසි බුදුරජාණන් වහන්සේලාගේ අටවිසි බුදුරජාණන් වහන්සේලාගේ විස්තර ඔබට දැනගන්න ලැබෙනවා අද ඉඳලා. එතකොට පින්වතුනි මේ බුද්ධ වංශ පාලිය ආරම්භ කරද්දීම මේ ඛුද්දක නිකායට අයිති ත්‍රිපිටක පොත් වහන්සේ නමක්. ඒ ගත්කතුවරු, ඒ අටුවාචාරීන් වහන්සේලා විස්තර කරනවා මේ බුද්ධ වංශ පාලියේ මෙච්චර විස්තර කරන්නේ බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ ගැන වැඩි වැඩියෙන් දැනගන්න සිතේ පව් බැහැර වෙනවා කියලා. ඉස්සර බුදුරජාණන් වහන්සේගේ, මේ බුද්ධ වංශ පාලිය මුල් කරගෙන තමයි පූජාවලිය, සද්ධර්මරත්නාවලිය, සද්ධර්මාලංකාරය ඊළඟට සසදාවත, මුවදෙව්දාවත, අමාවතුර, බුත්සරණ මේ ගොඩාක් පොත් පූජාවලිය, ඒ සියලුම පොත් වහන්සේලාගේ බුද්ධ චරිතය, ඊළඟට සද්ධර්ම ප්‍රදීපය කියලා තියෙනවා, ඒ පොත් වල බුද්ධ චරිතය එච්චර විස්තර කරලා තියෙන්නෙ මේ බුද්ධ වංශ පාලිය සහ චරියා පිටක පාලිය මුල් කරගෙන. ඉතින් ඔබට භාග්‍යය ලැබෙනවා ඒ දේශනා ඉගෙන ගන්න. ඒක විශාල භාග්‍යයක්. එතකොට මතක තියාගන්න මේ බුද්ධ චරිතය, මේ බුදුරජාණන් වහන්සේගේ ජීවිත කතා ත්‍රිපිටකානුගත විදියටම තමයි උගන්වන්නේ මේ පින්වතුන්ට. ඒක ඇත්තටම භාග්‍යයක් ඔබට. මොකද බුදුරජාණන් වහන්සේගේ ජීවිත කතා අපි අහලා තියෙනවා. අපි කවුරුත් කතා කරලා තියෙනවා, අපිට හුරුයි. අපි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයො විදියට ඉගෙනගෙන තියෙනවා. නමුත් ත්‍රිපිටකගත ධර්මයක් විදියට අපි ඉගෙනගෙන තියෙනවා අඩුයි. ඒ නිසා ඒක ඉගෙනගන්නත්, ඊළඟට පුදුම හිතෙනවා ඒ බුදුරජාණන් වහන්සේලා ආපු ගමන් මාර්ගය ගැන. පුදුම හිතෙනවා. ඉතින් පින්වතුනි, මේ බුදුරජාණන් වහන්සේගේ මේ අතීත ජීවිත විස්තරය, අතීතයේ සූවිසි බුදුරජාණන් වහන්සේලාගෙන් විවරණ ගත්තු මේ

කතාව පින්වත්නි, ඒ විවරණ කතාව සම්පූර්ණයෙන්ම මේ බුද්ධ වංශ පාලියෙන් ආරම්භ වෙනවා, ඒ වගේම පුදුම සහගතයි ඒ කාලෙ සිද්ධ වෙච්චි දේවල්. බුදුරජාණන් වහන්සේ ආපු ගමන් මාර්ගය. ඒවා ඉගෙනගන්නකොට, ඉගෙනගන්නකොට තමයි පැහැදීම ඇතිවෙන්නෙ. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රේෂ්ට බව ඇතිවෙන්නෙ. ඔබට මතකද මං කිව්වා මේ බුද්ධ ශාසනයේ වැඩිපුරම බුදුගුණ විස්තර කරපු බුදුගුණ වර්ණනා කරපු රහතන් වහන්සේ කවුද? උන්වහන්සේ තමයි කල්පයක් තිස්සේ වැටෙන වැස්සේ වැහි බිංදු ගාණ ප්‍රඥාවෙන් දකින්න පුලුවන් සාරිපුත්ත මහරහතන් වහන්සේ. ප්‍රඥාවෙන් අධික කෙනාම තමයි වැඩිපුරම බුදුගුණ විස්තර කරලා තියෙන්නෙ. සාරිපුත්ත මහරහතන් වහන්සේ තරම් බුදු ගුණ විස්තර කරන්න කෙනෙක් නම් සිතාගත නොහැකියි. ඉතින් ඒ සාරිපුත්ත මහරහතන් වහන්සේ අපේ සම්මා සම්බුදු රජාණන් වහන්සේ කපිලවස්තුවට වැඩම කරපු වෙලාවේ, කපිලවස්තුවේ තමන්ගේ ඥාතීන්ගේ මානය නැති කරන්න යමක මහා ප්‍රාතිහාර්ය පාපු බව ඔබ අහලා තියෙනවානෙ. ඒ යමක මහා ප්‍රාතිහාර්ය පාන වෙලාවේ ආකාසයේ රුවන් සක්මනේ ගිනි ජාලා විහිදුවමින්, ජල දහරා විහිදුවමින් වැඩ සිටිද්දී, සාරිපුත්ත මහරහතන් වහන්සේ බුදුරජාණන් වහන්සේගෙන් ආරාධනා කර සිටිනවා බුදුරජාණන් වහන්සේට ආකාසෙට වැඩම කරලා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, භාග්‍යවතුන් වහන්සේ මෙතෙක් ආපු මේ ලොව්තුරා සම්මා සම්බුද්ධත්වයට පත්වෙන්න මේ ආපු ගමන් මාර්ගය විස්තර කරන්න කියලා. සාරිපුත්ත මහරහතන් වහන්සේගේ ආරාධනාවෙන් තමයි යමක මහා ප්‍රාතිහාර්යය පාමින් තථාගත බුදුරජාණන් වහන්සේ දීපංකර පාද මූලයේ පටන් මේ උතුම් සම්මා සම්බුද්ධ වංශ කතාව දේශනා කරන්නෙ. ඉතින් ලොව්තුරා සම්මා සම්බුදු රජාණන් වහන්සේ දේශනා කරනවා සාරිපුත්‍ර, මීට කල්ප අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයකට පෙර සාරිපුත්‍ර මේ ලෝකයේ පහළ වුනා ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේලා හතර නමක්. කවුද ඒ හතර නම, තණ්හංකර, මේධංකර, සරණංකර, දීපංකර කියලා තථාගත අර්හත් සම්මා සම්බුදු රජාණන් වහන්සේලා. මටත් පින්වතුනි ප්‍රශ්නයක් තිබුනා, ඒ තමයි අපි අටවිසි පිරිත කියනකොට තණ්හංකරෝ මහාවීරෝ මේධංකරෝ මහා යසෝ සරණංකරෝ ලෝකහිතෝ දීපංකරෝ ජුතින්ධරෝ ආදී වශයෙන්නෙ අපි අටවිසි පිරිත සජ්ඣායනා කරන්නෙ. එතකොට මට හිතුනා දීපංකර බුදුරජාණන් වහන්සේගෙන් නම් විවරණ ගන්නෙ ඊට කලින් බුදුවරු ගැන ඇයි දන්නෑ මේ විස්තරයක් තියෙන්නෙ කියලා. අන්න ඒකට

උත්තරය හම්බෙනවා මේ වංශ කථාවෙන්. මොකද ඒ දීපංකර බුදුරජාණන් වහන්සේ පහළ වෙච්ච කල්පය ඇතුලෙමයි තණ්හංකර, ඊළඟට මේධංකර, සරණංකර කියන බුදුරජාණන් වහන්සේලාත් පහළ වෙන්නෙ. එකම කල්පයේ. ඒ කල්පයේ බුදුරජාණන් වහන්සේලා හතර නමයි. මෙතුවක් කල් පින්වතුනි මේ සසරේ වංශකතාවේ බුදුරජාණන් වහන්සේලා පස් නමක් පහළ වුන එකම කල්පය මේ මහා භද්‍ර කල්පය. එතනින් එහාට වැඩිපුරම පහළ වෙලා තියෙන්නෙ අවස්ථාවල් දෙකකදී වගේ බුදුවරු හතර නමක් පහළ වෙලා තියෙනවා. ඉතින් ඒ බුදුරජාණන් වහන්සේලා හතර නමක් පහළ වුනු කාලයේ ඒ හතර නමගෙන් හතර වෙනි බුදුරජාණන් වහන්සේ තණ්හංකර, මේධංකර, සරණංකර, දීපංකර කියන බුදුරජාණන් වහන්සේගේ කාලයේ තමයි අපේ මහා බෝධි සත්ත්වයෝ සුමේධ තාපසතුමා වෙලා ඉපදුනේ. ඊටකලින් ඔබ අහලා ඇති මනෝ ප්‍රනිධාන, වාග් ප්‍රනිධාන ආදී වශයෙන් මනසින් සම්බුද්ධත්වය ගැන කල්ප ගණන් හිතනවා. ඊටපස්සෙ වචනයෙන් කල්ප ගණන් කියනවා. ඊටපස්සෙ තමයි බුද්ධ විවරණ ලැබෙන්නෙ. එතකොට අපේ බුදුරජාණන් වහන්සේ මවුන් කරට අරන් මේ මාතුපෝසක කුමාරයා පීනලා තියෙන්නෙ විසි අසංඛෙයයකට කලින්. අසංඛෙයය විස්සකට කලින්. විවරණ ගන්නෙ මීට අසංඛෙයය හතරකට කලින්. ඒ කියන්නෙ සුමේධ තාපස වෙන්න සොළොස් අසංඛෙයය, දහසයකට කලින් තමයි මවුන් කරට අරන් පීනන්නෙ. එතකොට දීපංකර බුදුරජාණන් වහන්සේගේ කාලෙ වෙනකොට ලොව්තුරා සම්මා සම්බුදු ශාසනයේ අර්හත්වයට පත්වෙන්න යම්කිසි පිනක් ඕන නම් ඒ පින සම්පූර්ණ කරලා තමයි හිටියේ ඒ සුමේධ තාපසතුමා. ඒ සුමේධ තාපසතුමා ඒ කාලෙ හිටපු බ්‍රාහ්මණයෙක්. මව්පියන් පුංචි කාලෙම අන්තරා වුනා. ඊටපස්සෙ මේ බ්‍රාහ්මණ කුමාරයා ගෙදර සම්පූර්ණ සකලවස්තු සම්භාරයට අධිපති වෙලා වාසය කලා. කල්පනා කලා මේ හැම දෙයක්ම අතහැරලා යන්න සිද්ධ වෙනවා. ඒ වගේම සෑම කෙනෙක්ගේම ජීවිතය මරණයෙන් කෙළවර වෙලා යනවා. ඒ නිසා මේවා අපේ ඥාතීනුත් අත්හැරලා දාපු එකේ මට මේ වස්තුව අත්හරින්න වෙනවා. ඊළඟට කල්පනා කලා මේ දුකෙන් නිදහස් වීමක් නැද්ද. යම්තැනක උණුසුමක් තියෙනවා නම් අනිවාර්යයෙන් සීතලක් තියෙන්න ඕන. ඉතින් ඒ නිසා එහෙනම් මේ දුකෙන් නිදහස් වීමකුත් තියෙන්න ඕන. මං ඒ නිවන කරා යන්න ඕන. ඉතින් එහෙම කල්පනා කරලා සොයාගෙන ගියා, ඊටපස්සෙ කල්පනා කලා යම්කිසි කෙනෙකුට ශරීරයේ අශුචි තැවරිලා තියෙනවානම්, ඇත පොකුණකුත් තියෙනවා නම් ඒ පොකුණෙ ඇයි මොහු නාන්නෙ නැත්තෙ.

මොහු නෑවෙ නෑ කියලා පොකුණ පලි නෑ. ඊටපස්සෙ කල්පනා කලා යම්කිසි කෙනෙක් ගිමනින් තැවිලා නම් ඇත සිසිල් දිය තියෙන පොකුණක් තියෙනවා නම් ඔහු ඒ පොකුණේ නාන්නෙ නැත්නම් පොකුණ පලි නෑ. ඒ වගේ තමයි මේ දුකකුත් තියෙනවා නම්, දුකින් නිදහස් වීමකුත් තියෙනවා නම් ඒ දුකින් ඔහු නිදහස් වෙන්නෑ කියලා නිවන ඒකට පලි නෑ. දැන් තනියෙන් හිතනවා. කොහොමද මොළයක්ද, කොහොම නුවණක්ද. ඊටපස්සෙ කල්පනා කරනවා සොරෙක් අල්ලලා හිර කරලා තියෙද්දින් පැනලා යන්න පාරකුත් තියෙනවා නම් ඒ හිරවෙච්ච කෙනා පැනලා යන්නෙත් නැත්නම් අර පැනලා යන්න තියෙන පාරේ වැරැද්දක් නෑ. ඒ වගේම මේ කෙලෙස් සතුරාට අහුවෙලා හිරවෙලා සිටිද්දින් පැනලා යන්න මාර්ගයක් තියෙද්දි නුවණකුත් තියෙද්දි ඒ නුවණ කරා යන්නැත්නම් ඒ නිවන ඒකට පලි නෑ. ඊටපස්සෙ දක්ෂ වෛද්‍යවරයෙකුත් ඉන්නවා නම්, තමන්ට ලෙඩකුත් තියෙනවා නම්, තමන් ඒ වෛද්‍යවරයාගෙන් බෙහෙත් අරන් සුවපත් වෙන්නැත්නම්, වෛද්‍යවරයා ඒකට පලි නෑ. ඉතින් ඒ නිසා පින්වත්නි, කල්පනා කලා සුමේධ තාපසතුමා, මමත් මේ දුකින් නිදහස් වෙන්නැත්නම්, නිවනකුත් තියෙනවා නම්, නිවන ඒකට පලි නෑ, මගේමයි වැරැද්ද. මම මේ සියලු සම්පත්ති අත්හරින්න ඕන කියලා සිහි කලා. එතකොට ඔබටත් ඒකයි කියන්න තියෙන්නෙ. මොකක්ද ඔබට කියන්න තියෙන්නෙ, ඔබට ප්‍රශ්නත් තියෙනවා නම්, ඔබට දුකත් තියෙනවා නම්, අසරණ බවකුත් තියෙනවා නම්, අපිත් පින්වතුනි, බුදුරජාණන් වහන්සේ වදාළ සරණ ගැන, අසරණ බවට පිහිට පිළිසරණ දුකෙන් නිදහස් වීමක් ගැන අපිත් කියලා දෙනවා නම් බුද්ධ වචනයෙන් ඔබ ඒකෙන් පිහිටක් ගන්නෑ කියලා අපි පලි නෑ ඒකට. බුදුරජාණන් වහන්සේ පලිත් නෑ, බුද්ධ ශාසනය පලිත් නෑ. ඒ නිසා මේ ලෝකෙ අපරාධ වැඩිවෙනවා කියලා, මෙච්චර බණ කියන රටේ, මෙච්චර බණ අහන රටේ ඇයි මෙච්චර අපරාධ කියලා බුද්ධ ශාසනයට නිග්‍රහ කරලා වෙනම අපායක් තියෙනවා ඒ අයට යන්න. ඒ අපායට නම් යන්න එපා. මේකෙ තියෙන්නෙ තම තමන්ගේම දෝෂ කියලා තේරුම් ගන්න පින්වත්නි. අපේ මහා බෝධි සත්ත්වයෝ විවරණ ගන්න කලින් ඒ ජීවිතේ තපසට යන්න කලින් හිතන සිතුවිලි ඒවා. ඊටපස්සෙ බලන්න ඒ කාලෙ මුහුකුරා ගිය නුවණ. ඊටපස්සෙ මේ සියල්ලම අත්හැරියා. අත්හැරලා ගෙදරින් ගියා. ජීවිතයත් ශරීරයත් සියල්ල අත්හැරියා. අපේක්ෂාව නැතිවුනා. තපසට ගියා. ඊටපස්සෙ එයා කල්පනා කලා මේ රන්රිදී මුතු කහවණු අත්හැරලා යද්දි ආපසු බැලුවේ නෑ. කල්පනා කරලා බැලුවා සැරසෙන්න කැමති කෙනෙකුගේ කරට කුණුවෙච්ච සර්පකුණක්

දැම්මොත් චී කියලා විසි කරනවා. මං ඒ වගේ තමයි නිවන සොයාගෙන යද්දින් මේ කාම සම්පත්තිය විසිකරන්නේ කියලා. අපේ මහා බෝධි සත්ත්වයෝ විවරණ ලබන්න කලින් කාමය අත්හැරපු විදිය බලන්න. ඊටපස්සෙ සුමේධ තාපසතුමා කල්පනා කලා කියලා කියනවා පින්වත්නි, යම්කිසි කෙනෙක් අශුචි කරලා, මුත්‍රා කරලා අනේ මං දමපු ඒවනේ කියලා ඔඩොක්කුවට අරන් එනවද කියලා අහනවා. කවදාවත් නෑ. ඒ වගේ කියනවා ගිහි ජීවිතේ අත්හැරියේ. ආශ්චර්යයි. අද්භූතයි. කොහොමද සිතිවිලි වලින් අත්හැරීම. ඒ නිසා මලමුත්‍රා කරලා තමන්ගේ රෙද්දෙ කොනේ ගැට ගහගෙන එන්නෑ මං දමපු ඒවා කියලා. ඒ වගේ ගිහි ජීවිතේ අත්හැරියා කියලා කියනවා. ඉතින් මේ විදියට ජීවිතේ අත්හැරියා, අත්හැරලා, ඊළඟට ජීවිතයත් කාම සම්පත්තියත් ඔක්කොම අත්හැරියා. ජීවිතයට ආසාව, දිරපු නැවක් අත්හැරලා යන නැවියෙක් වගේ අත්හැරලා ගිහිල්ලා හිමාලයේ දිවා රාත්‍රී නින්ද නැතිව බණ භාවනා කරලා පංචඅභිඥා අෂ්ටසමාපත්ති ඉපදුවා. උපදලා තමයි ඒ කාලෙ දඹරන් නුවර දීපංකර තථාගත බුදුරජාණන් වහන්සේ වැඩම කරන්නෙ. ඒ බුදුරජාණන් වහන්සේ වැඩම කරන කාලෙ ඒ බුදුරජාණන් වහන්සේගේ ජීවිතය පින්වතුනි හරි ආනුභාවසම්පන්නයි. ඒ බුදුරජාණන් වහන්සේගේ නොයෙක් ආශ්චර්ය දේවල් තිබුනා. දීපංකර බුදුරජාණන් වහන්සේගේ කාලයේ ශ්‍රාවක සන්නිපාත තිබුනා, කෝටි ගණන් සංඝයා. ඒහි භික්ෂු භාවයෙන් පැවිදි වුන, සියලු අභිඥා සහිත රහතන් වහන්සේලා කෝටි ගණන්. ඒ කාලෙ තිබ්බා පින්වතුනි නාරදකෝටි කියලා පර්වතයක්. දීපංකර බුදුරජාණන් වහන්සේගේ කාලෙ. අපේ කාලයේ ආලවක යක්ෂයා වගේ මහා යක්ෂයෙක් ඒ පර්වතයට අධිගෘහිත වෙලා තියෙන්නෙ. දීපංකර බුදුරජාණන් වහන්සේ ඒ පර්වතයේ වඩිනකොට ඒ පර්වතයට අධිගෘහිත යක්ෂයා කිපිලා ඒ පර්වතය හෙල්ලුවා කියනවා බුදුරජාණන් වහන්සේ වැටෙන්න. ඒ කොච්චර හෙල්ලුවත් බුදුරජාණන් වහන්සේ තියන සිරිපා සඟල යම්තැනක තියනවාද, එතන මේ ලෝකයේ කුමන කම්පාවකටවත් හෙලවෙන්නැති තැනක් බවට පත්වුනා, සිරිපා තියන තියන තැන. ඊටපස්සෙ මේ යක්ෂයා කන්ද ගිනි ගන්න සැලැස්සුවා. දැන් පර්වතය ගිනි ගන්නවා. බුදුරජාණන් වහන්සේ ගින්දර මැද වාසය කරනවා, සීතල සුළඟක ඉන්නවා වගේ. ඊටපස්සෙ අනේක විධ යක්ෂ සෘද්ධියෙන් ආලවක වගේ. ආලවකම තමයි. ආලවක වගේ එච්චර විශාල වර්ෂා වස්සවලා ඒ තථාගත බුදුරජාණන් වහන්සේ අවසානයේ නාරද කියන යක්ෂයා දමනය කලා. ඒ යක්ෂයාට හැමදාම ඒ ජනපද වලින් බිලි ගෙනත් දෙනවා. ඒ යක්ෂයා

බුදුරජාණන් වහන්සේගේ සිරිපා ළඟ දණ ගැහුවා. එතකොටම අර ආලවක යක්ෂයාට වගේ දරු පැටව් ගෙනාවා කන්න. එදා ඒ කන්ද ගිනි ගන්නවා දැකලා බිලිපූජාවට ආපු කෝටි ගණන් මිනිස්සු බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහලා ඒ දීපංකර බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පිහිට සළසාගත්තා. ඒ නාරද යක්ෂයාත් සෝතාපන්න වුනා, දස දහස් ගණන් යක්ෂයන් සමග. ඉතින් බුදුරජාණන් වහන්සේට දානයට ආරාධනා කලා රඹරන් නුවර වැසි පිරිස. ඊටපස්සෙ එදා පාර ශුද්ධ කරනවා, සම්පූර්ණයෙන් පාර වලවල් වහලා උස් තැන් පහත් කරලා සුදුවැලි අතුරනවා. සුමේධ තාපසතුමා ආකාසයෙන් ගමන් කරනවා. සොඳුරු මාවතක් ඉදිවෙනවා දුටුවා. ආකාසයෙන් බැස්සා, පින්වත්නි කුමන වූ මාවතක්ද, කා උදෙසා ද. භවත් තාපසතුමනි නුඹ දන්නැද්ද මේ ලෝකයේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ කලාතුරකින් පහළ වුනා නෙව. ඒ හැම අවස්ථාවකම පින්වතුනි පොළොව කම්පා වෙද්දි අසිරිමත් දේවල් සිද්ධ වෙද්දි ඒ තාපසතුමා සමාපත්තියෙන් ඉඳලා තියෙන්නෙ. ඒ නිසා ඒවට හිත යොමු කලේ නෑ. ඉතින් කියනවා අනේ මං දන්නෑනෙ. ඒ තථාගතයන් වහන්සේ දැන් වඩිනවා. එතකොට සුමේධ තාපසතුමා හිතුවෙ නෑ, ගෞතම නමින් ලොව්තුරා බුදුවෙන්න විවරණ ලැබෙන්නෙ අදයි කියලා. මේ බලන්න මේ ලෝකයේ සිදුවන අසිරිය. කල්පනා කලා සුමේධ තාපසතුමා අනේ මටත් පිනක් කරගන්න ඇත්නම්. භවත්නි මටත් කුමක් හෝ දෙන්වා. ඊටපස්සෙ මිනිස්සු කල්පනා කලා මේ අහසින් යන ඍද්ධිමත් තාපසයෙක්, ඕන දෙයක් කරන්න පුලුවන්. අපේ මේ පාර ලස්සනට හදාගෙන යද්දි එක මඩවගුරක් තියෙනවා, අපිට බෑ ඕක ශුද්ධ කරන්න. ඒ නිසා මේ තාපසයාට දෙමු ඍද්ධියෙන් මොනවාහරි කරයි. ඒ කොටස දුන්නා. ඒ කොටස දුන්නාට පස්සෙ ඒ තාපසයින් වහන්සේ කල්පනා කලා මට එක මොහොතින් සිතූ සිතිවිල්ලෙන් මැණික් මාවතක් කරන්න පුලුවන්. ඒ වුනාට කයින් මහන්සිවෙලා කරන දේ ශ්‍රේෂ්ටයි. මං කයින්ම මහන්සි වෙනවා කියලා තමන්ම පස් ගෙනල්ලා ගෙනල්ලා මඩවගුර ගොඩ කලා. මඩවගුර ගොඩ කරලා බඹයක් පමණ ඉඩ ඉතුරු වුනා. ඒ අතර තුර සවණක් ගණ බුදුරැසින් බබලන, දෙතිස් මහා පුරුෂ ලක්ෂණයෙන් සෝබමාන වූ, අසූ අනු ව්‍යඤ්ජනයකින් පින් සිරුරකින් බැබලි බැබලි වඩින තථාගත දීපංකර බුදුරජාණන් වහන්සේ දුටුවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දැකලා පින්වත්නි, කල්පනා කලා අහෝ, දැන් ශාස්තෘන් වහන්සේ වඩිනවා. ශාස්තෘන් වහන්සේගේ උතුම් සිරිපා කමලේ මඩ නම් දැවටෙන්න එපා. ඒ නිසා මා දැන් මෙතන දිගා වෙනවා කියලා කෙහෙවල්ල කඩාගෙන අර බඹයක් පමණ

වූ ඒ මඩ වගුරේ දිගා වුනා. මේ සිදුවිය නොහැකිද පින්වත්නි. ඒකාන්තයෙන් සිදුවිය හැකියි. කුමක් නිසාද. ඔබට මතකද පසුගිය කාලයේ තායිලන්ත භික්ෂූන් වහන්සේලා ඇවිල්ලා පාද චාරිකාවේ වැඩියා. උන්වහන්සේලා වඩිනකොට මිනිස්සු පාරෙ කෙහෙල් කොල ඇතිරුවා අව්වට පා පිච්චෙයි කියලා. බකමූණ පැත්තේ පාරෙන් වඩිනකොට උන්වහන්සේ එක තැනක පාර, එක ගමේ කට්ටියක් ඇවිල්ලා මෙහෙන් කෙහෙල්කොළ අතුරගෙන ආවා, එහෙ ඉඳන් කට්ටියක් එහෙ ඉඳලා අතුරගෙන ආවා. එහෙන් අතුරාගෙන එනකොට මෙහෙන් අතුරාගෙන ගිහිල්ලා හරියටම බඹයක් පමණ තැන, අඩි තුන හතරක් පමණ තැන ඉඩ ඉතුරු වුනා කෙහෙල් කොළයක් නෑ, ස්වාමීන් වහන්සේලා වඩිනවා. එතන හිටපු තාත්තා කෙනෙක් කුඹුරක වැඩ කරන, කුඹුරක වැඩ කරන මිනිස්සු සාමාන්‍යයෙන් යටට ෂෝට්ක් වගේ පොඩි කලිසම ඇඳගෙන ඉන්නවා. ඊට උඩින් තමයි සරම ඇඳගෙන ඕන මඩකට ඕන වෙලාවක බහින්න පුලුවන් විදියට ගම්වල මිනිස්සු සූදානමෙන් ඉන්නෙ. ඊටපස්සෙ ඒ තාත්තා මොකද කලේ ඒ මොහොතෙම තමන්ගේ සරම උණාදමලා අර මදි අඩුවට වැතිරුවා. අතුරලා වැඳගෙන බලන් හිටියා. ඒ මොහොතේ ඇතිවෙච්ච් නුවණටත්, ඒ කරපු පරිත්‍යාගයටත් ඔහුට සංසාරේ බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. සිතාගත හැකියි පින්වත්නි, අද කාලෙත් එවැනි දේවල් සිද්ධ වෙනවානම්, එදා ජීවිත පරිත්‍යාගයෙන් මඩේ වැතිරුණු බව නම් ඒකාන්තයෙන් සත්‍යයි. ඒකාන්තයෙන් සත්‍යයි පින්වත්නි. ඊටපස්සෙ මඩේ වැතිරිලා ඉද්දින් තථාගත බුදුරජාණන් වහන්සේ දැන් වඩින්නෙ නෑ. එතකොට අර කෙහෙවළු අතරින් දැස් ඔසවලා සුමේධ තාපසතුමා බලනකොට ඉරමඬුලු දාහක් තමන්ගේ ළඟ තියෙනවා වගේ රශ්මි ධාරාව දුටුවා. සඳමඩල දාහක් වගේ තමන්ගේ ශරීරයට සිසිලස දැනෙනවා දුටුවා. ලෝකයේ තියෙන සියලුම සුවඳ එක තැනකට ගත්තා වගේ සුවඳ දහරා විහිදී ගියා. උතුම් රන්වන් සිරිපා කමලෙන් තඹවන් නියපොතු දහරින් තඹ රැස් මාලා විහිදී ගියා, බුදුරජාණන් වහන්සේ වදාළා පස්සති ඉමං ජටිලං උග්‍රතාපතං, පින්වත් මහණෙනි, බලන්න මේ ජටිලයා දෙස. උග්‍ර තපස් රකින. ඒව මේව ඉතෝ කප්පේ, මෙතනින් අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයකුත් ගිය තැන ගෞතම නමින් ලොව්තුරා සම්මා සම්බුද්ධත්වයට පත්වෙන කෙනානේ මේ කියලා බුදුරජාණන් වහන්සේගේ බුදු මුවින් මොහු බුදුවෙනවා කියන වචනය පිටවුනා. ඒ බුද්ධ වචනය. පින්වතුනි ඒ බුද්ධ වචනය කොච්චර වටිනවාද කියනවා නම් ඒකට උපමා ටිකක් තියෙනවා පින්වතුනි. අහසට දැමූ ගල අනිවාර්යයෙන් බිම

වැටෙනවා. අහසට දැමූ ගල බිම නොවැටී තියෙන්නෙ පුලුවන්, බුදුරජාණන් වහන්සේ වදාළ දේ නම් ඒකාන්තයෙන්ම සිද්ධ වෙනවා. ඊටපස්සෙ පින්වතුනි, උපන් කෙනා අනිවාර්යයෙන් මැරෙනවා, උපන් කෙනා නොමැරී ඉන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේ වදාළ වචනය නම් ඒකාන්තයෙන් සිද්ධ වෙනවා. එතකොට ඒ උපමාව හොඳට තේරුම් ගන්න, උපන් කෙනා කොහොමටත් මැරෙනවා. ඒක නොවුනත්, බුදුරජාණන් වහන්සේගේ වචනය නම් කවදාහරි සිද්ධ වෙනවා. පහදින්න පින්වතුනි බුද්ධ වචනය ගැන. මේ උතුම් ශ්‍රී සද්ධර්මය ගැන. ඊළඟට තියෙනවා සිංහයා අනිවාර්යයෙන් නිදාගෙන ගුහාවෙන් එළියට ඇවිල්ලා සිංහ නාද කරනවාමයි, සිංහනාද නොකර ඉන්න පුලුවන්, ඒ වුනාට බුද්ධ වචනය නම් ඉෂ්ට වෙනවා. ඊටපස්සෙ යම්කිසි ගැබිණියක්, ගර්භණී මාතාවක් දරුවෙක් වදනවා කියන එක සිද්ධ වෙනවා අවුරුදු හතක් ගිහිල්ලා හරි. ගැබිනියක් දරුවා නොවදා ඉන්න පුලුවන්, ඒ වුනාට අනිවාර්යයෙන් බුද්ධ වචනය නම් ඉෂ්ට වෙනවාමයි. ඒකාන්ත සත්‍යයක්. ලොව්තුරා දීපංකර තථාගත බුදුරජාණන් වහන්සේ වදාළා මේ තාපසයින් වහන්සේ ගෞතම නමින් ලොව්තුරා සම්බුදු වන බව. මගේ බුදුරජාණන් වහන්සේ සුමේධ තාපසයන් වහන්සේ වෙලා එදා මඩේ දිගා වෙලා දණ්ඩ නමස්කාර කරලා නේද සිටියේ. ජීවිත පරිත්‍යාග කරලා නේද සිටියේ. බුදුරජාණන් වහන්සේගේ සිරිපා වලට පෑගෙන දූවිල්ලක් සේ නේද හිටියේ. බලන්න එදා විවරණ ගත්තාට පස්සේ ලොව්තුරා සම්මා සම්බුදු වුනාට පස්සෙ සියලූම බ්‍රහ්මයන් සහිත සකල ලෝක සත්ත්වයා බුදුරජාණන් වහන්සේගේ සිරිපා වලට පෑගෙන දූවිල්ලක් වගේ වුනානෙ. තමන් ඉස්සෙල්ලා බුදු කෙනෙක් ළඟ දූවිල්ලක් වුනා. ඔබ ලෝකෙන් පිදුම් ලබන්න කැමති නම්, ඔබ තථාගත බුදුරජාණන් වහන්සේට පුදන්න. ඔබ ලෝකයෙන් ගුණ අහන්න කැමැති නම් ඔබ ලොව්තුරා තථාගත බුදුරජාණන් වහන්සේගේ ගුණ කියන්න. ඔබ සුන්දරව ඉන්න කැමැති නම් ඔබ ලොව්තුරා තථාගතයන් වහන්සේගේ සොඳුරු බව ගැනම කියන්න. ඔබ ප්‍රඥාවන්ත වෙන්න කැමැති නම් ලොව්තුරා බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥාවටම ප්‍රශංසා කරන්න. ඔබ දන්නවාද තථාගත බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ අපේ ප්‍රඥාවෙන් අග්‍ර සාරිපුත්ත මහරහතන් වහන්සේ ඉස්සෙල්ලාම කරපු පින තමයි අනෝමදස්සී බුදුරජාණන් වහන්සේගේ බුදුනුවණට ප්‍රශංසා කරලා තියෙනවා. ප්‍රඥාවට ප්‍රශංසා කලා කියලා යමක් ඇත්ද, ප්‍රඥාවෙන් අග්‍ර ශ්‍රාවකයා බවටම පත්වුනා. අපි බුදුරජාණන් වහන්සේ නමක් ළඟ කෙසේද පින් කරගන්නේ එය තමයි අපි උරුම කරගන්නෙ. බලන්න දීපංකර බුදුරජාණන් වහන්සේගේ සිරිපා

වලට පෑගෙන දූවිල්ලක් බවට පත්වුනා සුමේධ තාපසතුමා, උන්වහන්සේට ඒ පින ආපු මොහොතේ මුලු ලෝක සන්නිවාසයම උන්වහන්සේට දූවිල්ලක් වුනා. අපේ බුදුරජාණන් වහන්සේ කවදාවත් පන්සාලිස් වසටම මඩ සහිත භූමියේ පා තියන්න සිද්ධ වෙලා නෑ. උන්වහන්සේ සිරිපා තබනකොටම උස් තැන් පාත් වෙනවා, පාත් තැන් උස් වෙලා සිරිපා වලට පොළොව හැදෙනවා. මේ සිව්මහා දිවයිනටම යම්කිසි වර්ෂාවක් වැස්සද එදාට බුදුරජාණන් වහන්සේ තෙමෙන දවසක්. නමුත් බුදුරජාණන් වහන්සේ දෙව්රම් වෙහෙරෙන් සිරිපා තබලා ඊළඟ පියවර තිබ්බෙ විශාඛාවගේ ගෙදර. දෙව්රම් වෙහෙරේ ඉඳලා විශාඛාගේ ගෙදර දක්වාම එක පියදෙකක් වුනා බුදුරජාණන් වහන්සේගේ ඍද්ධි බලයේ ආනුභාවයෙන්. කෙසේද, දීපංකර බුදුරජාණන් වහන්සේගේ සිරිපා වල මඩ නොතැවරේවා කියූ සිතිවිල්ලටනෙ. පුදුම සහගතයි. පින්වතුනි මේ සිද්ධ වෙච්ච වෙලාවේ බුදුරජාණන් වහන්සේ මේ අනාගතේ ගෞතම නමින් සම්බුදු වෙනවා කියපු මොහොතේ පින්වතුනි මේ ලෝකයේ ආශ්චර්‍ය්‍ය දෙයක් සිද්ධ වුනා. කුමන වූ ආශ්චර්‍ය්‍යක්ද සිද්ධ වුනේ. ඒ තමයි පින්වතුනි, විශාල ලකුණු ටිකක් පහළ වුනා. බුදුරජාණන් වහන්සේ ඒ වචනය දේශනා කරන වෙලාවෙ සීතල උණුසුම සමනය වුනා. ඒ වගේම දස දහසක් ලෝක සන්නිවාසයේ සුළං නැතිවෙලා ගියා, සුළඟ නැතිවුනා, නිහඬ වුනා. නදී, ගංගාවන් ගලන්නැතිවුනා ඒ තත්පරේට. ඊළඟට ගොඩපියුම්, දියපියුම් පිපෙන්න ගත්තා. ගස්වල පල හට ගත්තා. මුතුමැණික් මතුවෙන්න ගත්තා. සියලූම නිරයවල්වල ගින්දර මොහොතක් නිවී ගියා. ඒ මේ අනාගතයේ ගෞතම නමින් සම්බුදු වෙනවා කියන වචනෙ කියද්දිම. අපේ ගෞතම බුදුරජාණන් වහන්සේට බුද්ධ කියන වචනය පළවෙනි වතාවට ඇහෙනකොටම නිරයේ ගිනි නිවුනා පින්වත්නි. නිරයේ ගිනි නිවමින් සම්බුද්ධත්වයට විවරණ ලැබූ සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ඔබගේ නිරයේ ගිනි නිවෙනවා. ඔබගේ හදවතේ ගිනි නිවෙනවා පින්වත්නි. සියලු නිරයවල් වල ගින්දර නිවුනා නම් මේ පුංචි හදවතේ ගින්දර කෙසේ නම් නොනිවී තියෙන්නද. බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ශ්‍රී සද්ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝ රත්නය සරණ යන්න. ඉතින් තාපසතුමා මේ සියල්ල දැනගෙන සාධුකාර දීලා වැඩ ඉඳිද්දි ඍද්ධියෙන් මවනලද සුවඳවත් වූ සමන් මල් බුදුරජාණන් වහන්සේ විසින් දීපංකර සම්මා සම්බුදුරජාණන් වහන්සේ, උග්‍ර තපස් ඇති ඒ ජටිලයන් වහන්සේගේ ශරීරයට ඉස්සා. ඍද්ධියෙන් වැඩියා ඒ ශරීරය වටා. බුදුරජාණන් වහන්සේ වැඩියා. ලක්ෂ හතරක් මහරහතන් වහන්සේලා මවන ලද ඍද්ධියෙන් මල් ඔහුගේ ශරීරයට දැම්මා. මල් මාවතෙන්

උන්වහන්සේලා වැඩම කලා. එදා තමයි මානෙල් මල් අට මිටක් රැගෙන ඒ බුදුසිරිපා ළඟම මල් තබලා මොහුගේ අනාගත බිරිඳ වෙන්නේ මමයි කියලා ඒ සුමිත්‍රා නම් වූ ඒ පරිබ්‍රාජිකාව, බ්‍රාහ්මණ කන්‍යාව බුදුරජාණන් වහන්සේ ළඟ ප්‍රාර්ථනා කලේ, ඇ යශෝදරා. එතකොට මෙතන පින්වතුනි ඒ මිනිස්සු අතර ඉඳලා තියෙනවා එක මනුස්සයෙක්, ඒ මනුස්සයා අර ගෞතම කියන වචනෙ කිව්ව ගමන් ඒ ගෞතම කියන වචනය හිතට හොඳට වැදිලා, දීපංකර තථාගතයන් වහන්සේ දේශනා කරද්දි. මෙයා තනියම මමත් තපස් රකිනවා කියලා සුමේධ තාපසතුමාත් එක්ක ගිහිල්ලා තපස් රැකලා ඉන්නකොට ගෙදර ප්‍රශ්නයක් වෙලා ගෙදරට ඇවිල්ලා ඒ ගෙදර ප්‍රශ්නෙකට මැදිහත් වෙලා තමන්ගෙ අතින් අම්මා මැරිලා. නිරයේ ගියා කල්පයක්. ඊළඟ කල්පෙ මනුස්ස ලෝකෙට ආවා. ආයෙ මව්පියා මැරුණා. ආයේ නිරයේ ගියා. මේ විදියට අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් නිරයේ ඉඳලා අපේ ගෞතම ශාසනයේ මුහුදේ මහා මාළුවෙක් වෙලා උපදිනවා. සැවැත්නුවර පිරිසක් මුහුදේ යද්දීන් අර මාළුවා හරස් වෙනවා. ගෞතම සම්බුදුරජාණන් වහන්සේගේ සරණයි කියලා කෑගහනකොට ගෞතම කියන නාමය ඇහිච්ච ගමන්ම අර මාළුවාගේ හදවත, මාළුවාගේ ශරීරය ගල් වෙනවා. පුපුරනවා. අර වචනෙට. උපදිනවා සැවැත් නුවර. අවුරුදු හතෙන් පැවිදි වෙනවා. අර්හත්වයට පත්වෙනවා. නම ධම්මරුචි. උන්වහන්සේ කියනවා. මම ලොව්තුරා බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ අර්හත් වුනේ එදා දීපංකර පාද මූලයේ ගෞතම කියන වචනය අහලා පැහැදිච්ච පිනට කියනවා. දවසක් ගන්ධකුටිය ළඟින් යනකොට බුදුරජාණන් වහන්සේ කතා කලා, ධම්මරුචි බොහෝ කාලෙකට පස්සෙ නේද මුණගැහුනේ කියලා. පුදුම දේවල්. ඉතින් මම අමතර විස්තරයක් කිව්වෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ දීපංකර බුදුරජාණන් වහන්සේ වැඩම කළාට පස්සෙ, හාරලක්ෂයක් රහතන් වහන්සේලා වැඩම කලාට පස්සෙ එතකොට මල්මිටි හාරලක්ෂයක් කියන්නෙ කොච්චරද. මල් ගොඩ මැදින් මතුවුනා. පුදුමයි. දිගාවුනේ මඩ වගුරේ. නැගිට්ටේ මල් ගොඩක් උඩ. පිනේ විපාක දෙස බලන්න. තද වැස්සෙ තෙමි තෙමී බුදුන් වඳින්න අමාරුයි, තෙමි තෙමී ස්තූප පූජා කරන්න අමාරුයි, පිනි පොද වැටෙනකොට මේන් සිං සිං ගාලා මාරු වෙනවා. මේ බලන්න අපේ ශාස්තෘන් වහන්සේ මඩ වගුරේ වැතිරුනේ, මල් ගොඩේ මතුවුනේ. ඒ මල්ගොඩ මත අර සුවදායක සැනසිලි සුළඟ මැද්දෙ සමාධියට සමවැදිලා ලොව්තුරා සම්බුදුරජාණන් වහන්සේ වදාළා නම් මම සම්බුදු වන බව ගෞතම නමින් එහෙනම් අනිවාර්යයෙන් ඒක සිද්ධ වෙන දෙයක්. මා ලොව්තුරා

සම්බුද්ධත්වයට කළ යුත්තේ කුමක්ද කියලා ධ්‍යාන සමාධි සමාපත්ති වලට සමවැදී හිතනකොට, බුදු කෙනෙක්ගේ විවරණ තියෙන නිසා, බුදු කෙනෙක් වෙන්න පෙරුම් පිරිය යුතු කරුණු ටික වැටහෙන්න ගත්තා. දානය පුරන්න ඕන කෙළවරට. බාහිර දේවලුත් දන් දෙන්න ඕන, ශරීරයේ කොටසුත් දන් දෙන්න ඕන. ජීවිතෙත් දන් දෙන්න ඕන. දාන පාරමී, උප පාරමී, පරමත්ථ පාරමී. මා එය සමාදන් වෙනවා කියලා සමාදන් වුනා මල්ගොඩ උඩදි. සීලය සමාදන් වෙලා සීලය රකින්න ඕන, බාහිර දේවල් නැතිවුනත්, අතපය නැතිවුනත්, ජීවිතේ නැතිවුනත් සිල් රකින්න ඕන. කෙළවරටම කිසි කෙනෙකුට රකින්න බැරි සිල්. සීල පාරමී, සීල උප පාරමී, සීල පරමත්ථ පාරමී. නෙක්ඛම්මය පුරුදු කරන්න ඕන මේ බාහිර වස්තු ඔක්කොම නැතිවුනත්, අංග අතපය අඹුදරුවො නැතිවුනත්, තමන්ගේ ජීවිතය නැතිවුනත්. සීල පාරමී, උප පාරමී, පරමත්ථ පාරමී. පාරමී කියන්නෙ පාරමී පුරනවා බාහිර ඕන දෙයක් නැතිවුනත්. උප පාරමී කියන්නෙ තමන්ගෙ අංග අඹුදරුවො නැතිවුනත් ඒ පාරමිතාව පුරන්න ඕන. පරමත්ථ පාරමී කියන්නෙ තමන්ගේ ජීවිතේ නැතිවුනත් පුරන්න ඕන. සමාදන් වුනා. නෙක්ඛම්මය සමාදන් වුනා. ඊළඟට දානං සීලංච නෙක්ඛම්මං පඤ්ඤා විරියේන පඤ්චමං. ප්‍රඥාව පාරමිතාවක් විදියට පුරන්න ඕන කිසි කෙනෙකුට ඒ පාරමිතාව බාහිර දේවල් නැති වුනත්, අපේ අංග නැතිවුනත් ජීවිතේ නැතිවුනත් ප්‍රඥාව පුරන්න ඕන. ප්‍රඥා පාරමී, උප පාරමී, පරමත්ථ පාරමී. ඊළඟට වීර්යය වඩන්න ඕන, බාහිර දේවල් නැතිවුනත් තමන්ගේ අංග, අඹුදරුවො නැතිවුනත් තමන්ගේ ජීවිතේ නැතිවුනත්. ඒකට කියනවා වීර්ය පාරමී, උප පාරමී, පරමත්ථ පාරමී. ඊළඟට ඛන්ති සච්චමදිට්ඨානං මෙත්තුපෙක්ඛා ඉමේ දස. ඒ දස පාරමී. ඉවසීම කියන එක පුරුදු කරන්න ඕන බාහිර දේවල් නැති වුනත්, තමන්ගේ අංග අඹුදරුවො නැතිවුනත්, තමන්ගේ ජීවිතේ නැතිවුනත්. ඛන්ති පාරමී, උපපාරමී, පරමත්ථ පාරමී. සත්‍යය කියන එක පුරුදු කරන්න ඕන බාහිර දේවල් නැතිවුනත් අංග තමන්ගේ අතපය නැතිවුනත් අඹුදරුවො නැතිවුනත්, ජීවිතේ නැතිවුනත්. සත්‍ය පාරමී, උපපාරමී, පරමත්ථ පාරමී. ඊටපස්සෙ මෛත්‍රිය වඩන්න ඕන බාහිර දේවල් නැතිවුනත්, අඹුදරුවො අංග නැතිවුනත්, ජීවිතේ නැතිවුනත්. මෛත්‍රී පාරමී, උප පාරමී, පරමත්ථ පාරමී. ඊටපස්සෙ උපේක්ෂාව වඩන්න ඕන පාරමිතාවක් විදියට බාහිර දේවල් නැතිවුනත්, අඹුදරුවො නැතිවුනත්, අංග නැතිවුනත්, ජීවිතේ නැතිවුනත්. උපෙක්ෂා පාරමී, උපපාරමී, පරමත්ථ පාරමී. මේ විදියට ඒ දස පාරමිතාවෝ සමාදන් වුනාද, මල් මණ්ඩපයක් මත මාගේ බුදුරජාණන්

වහන්සේ ඒ ගුණ ධර්ම අධිෂ්ටාන කලේ මල් මණ්ඩපයක් උඩ. ඒ සීලය සමාදන් වුනේ දස පාරමී ගුණ සමාදන් වුනේ මල් මණ්ඩපයක් උඩ. ඒවයේ එච්චර උතුම්. මඩේ නෙවෙයි. විවරණ ගත්තෙ මඩේ වුනාට ගුණධර්ම සමාදන් වුනේ මල් මණ්ඩපයක් උඩ. ඒක සමාදන් වුනා මම මේවා කරනවාම කියලා, ඒ සමාදන් වෙනකොට මේ ඝනකඩ බොල් මහා පොළොව තොටිල්ලක් සේ කම්පා වෙන්න ගත්තා. ඊටපස්සෙ දීපංකර තථාගත බුදුරජාණන් වහන්සේ දන් වළදන දන්හල කම්පා වෙන්න ගත්තා. ස්වාමීනී, ඇයි? භවත්නි පින්වත් මහණෙනි නුඹලාට මතකද මා මඟදින් එක්තරා ජටිලයෙකුට විවරණ ලබාදුන්නා. ඔහු තමන්ගේ ගුණධර්ම අධිෂ්ටාන කලා කිව්වා. දෙවිවරු ආකාසෙන් නැවතත් ඔහු වැසී යන්න මල්වරුසා වැස්සෙව්වා. භවත, නුඹේ අධිෂ්ටානය සඵල වේවා කියලා. ඔය විදියට තමයි අපේ ලොව්තුරා ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ එදා විවරණ ධර්මය ලබාගත්තෙ. කොයිතරම් සොඳුරුද, ආනුභාවද, ගුණවත්ද. කීදෙනෙක්ගෙ සාදුකාර මැද ද. කොයිතරම් අසිරියක් මැද ද. පොකුරු වැසි වසින්න ගත්තා. මේ විදියට එදා තථාගත බුදුරජාණන් වහන්සේගෙන් විවරණ ලැබූ ඒ තාපසයින් වහන්සේ මහා වනයෙම තව තවත් දැහැන් සුව විඳලා බ්‍රහ්ම ලෝකයේ උපත ලබාගත්තා. ඉතින් මේ විදියට පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ විවරණ ලබලා ආයෙ පින්වතුනි අපේ සුමේධ තාපසයින් වහන්සේට ආයෙ බුදු කෙනෙක් මුණගැහුනේ කල්ප අසංඛෙය්‍යකට පස්සෙ. කොණ්ඩඤ්ඤ කියලා බුදුරජාණන් වහන්සේ නමක්. ඉතින් කොණ්ඩඤ්ඤ බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුණ තිබෙනවා. පින්වතුනි ඒ අටුවාවල සඳහන් වෙනවා සත්ත්වයෝ ගණන් කරන්න බෑ කියලා. උපන් ජීවීන් ප්‍රමාණ. ඒ වගේම සඳහන් වෙනවා අහස කෙළවරක් නෑ කියනවා. ඊළඟට සක්වලවල්වල කෙළවරක් නෑ කියනවා. ඊටත් වඩා බුදුගුණ වල කෙළවරක් නෑ කියනවා. එච්චර අනන්ත අප්‍රමාණ බුදුගුණ. ඉතින් කොණ්ඩඤ්ඤ බුදුරජාණන් වහන්සේ මේ ලෝකයේ පහළ වෙනකොට අපේ බුදුරජාණන් වහන්සේ ඒ කාලේ විජිතාවී කියලා සක්විති රජ කෙනෙක් වෙලා ඉඳලා තියෙන්නෙ. ඒ සක්විති රජතුමා කොණ්ඩඤ්ඤයන් වහන්සේ, කොණ්ඩඤ්ඤ බුදුරජාණන් වහන්සේ ළඟට ගිහිල්ලා විවරණ ලබාගන්නවා සම්බුදු බවට. අප්‍රමාණ දාන සම්පත්තිය දෙනවා. මේ හැම තැනකම දන් උයන්නේ යශෝදරා. මේ හැම බුදු කෙනෙක්ම යශෝදරාත් දැකලා තියෙනවා. ඒ නිසා ඔබට මේ වෙසක් මාසෙ කිට්ටු වෙනකොට වෙසක් මාසෙ අප විසින් උඩුපිළ අනගාරිකා භාවනා අසපුවේ යශෝදරා මහරහත් තෙරණියගේ ප්‍රතිමාව වඩම්මපු දවසේ පැය ගණනක

උතුම් යශෝදරා මහරහත් තෙරණිය වන්දනාවක් පැවැත්වුනා, ගුණ වර්ණනාවක්. එය ඔබට අහන්න ලැබෙයි මේ වෙසක් මාසෙ. ඒ සෑම බුදුකෙනෙක්ම මුණගැහුනා. මේ සෑම බුදු කෙනෙක් ළඟම දන් දිදී මහා බෝධිසත්ත්වයෝ සම්බුදුබව පතද්දී, ඒ දන් උය උයා යශෝදරා තමාගේ ස්වාමියාවම පැතුවා. ඕක තමයි වෙනස. ඊටපස්සෙ පින්වතුනි, ලෝකෙට කොණ්ඩඤ්ඤ බුදුරජාණන් වහන්සේ පහළ වුනේ කල්ප අසංඛෙය්‍යක්. එතකොට කල්ප අසංඛෙය්‍යයක් බුද්ධ කියන නාමය නෑ. ඒ කාලයේ ගුණ ධර්ම පුරුදු කරනවා බුදු කෙනෙක් නෑ. බුද්ධ කියන වචනය ඇහෙන් නෑ. තෙරුවන් සරණ කියන එක නෑ, සාංඝික දාන නෑ. කසාවතක් දකින්න නෑ. පසේ බුදුවරු නෑ. පින්වතුනි අසංඛෙය්‍යක් කල්ප. ඊටපස්සෙ තමයි කොණ්ඩඤ්ඤ බුදුරජාණන් වහන්සේ පහළ වුනේ. කොණ්ඩඤ්ඤ බුදුරජාණන් වහන්සේ පහළ වෙලා කල්ප ආයෙ අසංඛෙය්‍යක් බුදුවරු නෑ. කොච්චර දුර්ලභයිද බුදු කෙනෙක් කියන්නෙ. අසංඛෙය්‍යක් කියන්නෙ ගණන් කරන්න පුලුවන්ද. කල්ප අසංඛෙය්‍යක් බුදුවරු නෑ. ඊටපස්සෙ ඒ කාලෙත් පෙරුම් පුරනවා. පෙරුම් පුරලා මංගල බුදුරජාණන් වහන්සේ පහළ වුනා. මංගල බුදුරජාණන් වහන්සේ පින්වතුනි අනන්ත අප්‍රමාණ ආනුභාවයක් තිබ්බ බුදු කෙනෙක්. වෙන බුදුවරුන්ට වඩා එක වෙනසක් තිබ්බා. ඒක යම්කිසි පුණ්‍ය ඍද්ධියක්. ඒ තමයි උන්වහන්සේගේ ශරීරයෙන් ඉබේම රශ්මි ධාරාවක් විහිදෙනවා. මංගල බුදුරජාණන් වහන්සේගේ. මක් නිසාද. අපේ බුදුරජාණන් වහන්සේටත් පුලුවන් සක්වලක් ශරීරයෙන් ඒකාලෝක කරන්න. නමුත් අපේ බුදුරජාණන් වහන්සේලා ඒවා අධිෂ්ටානයෙන් කරන්නෙ. මංගල බුදුරජාණන් වහන්සේගේ විශේෂයෙන් ඒක ශරීරයේ ප්‍රභාව හැම වෙලාවෙම පැතිරිලා තිබ්බා. ඒකට හේතුවක් තමයි කියනවා, අතීතයේ දරුවන් දන් දෙද්දි මේ මංගල බුදුරජාණන් වහන්සේ එක්තරා බමුණෙක් ඇවිල්ලා දරුවො දෙන්නා ඉල්ලලා තියෙනවා. දරුවො දෙන්නා දන් දුන්නාට පස්සෙ ඒ බමුණා යකෙක්, මිනී මස් කන. මට මතක හැටියට කෲරධාර කියලා යක්ෂයා. ඒ කෲරධාර යක්ෂයා ඒ දරුවො දෙන්නා අරගෙන ඒ වෙලාවෙම බෝධිසත්ත්වයෝ ඉදිරියේ චර චර ගාලා හපලා කාලා තියෙනවා ඇඟෙන් ගිනි පිටවෙනවා කියනවා. අර ගිනි පිටවෙන මහා ආලෝකයේ ගින්දර මැද දරුවෝ දෙන්නා කාලා ලේ ටික වැක්කෙරෙනවා කියනවා උණු වෙලා. සිත සලිත කරගන්නැතිව ගින්දරටත් වැඩිය හිත ප්‍රභාෂ්වර කරගෙන හිටියා කියනවා මම දරුවන් දන් දුන්නා කියලා, මංගල බුදුරජාණන් වහන්සේ බෝධිසත්ත්ව කාලෙ. අන්න ඒ ප්‍රභාවේ ආනුභාවය

තමයි. ඒ වගේම තමයි එක්තරා ශාසනයකදී, ස්තූපයකට තමන්ගේ ශරීරය දල්වාගෙන, පහනක් විදියට දල්වලා, මුළු ඇඟම පුච්චලා ශරීරය තෙල් පාන්කඩ ඔතලා සෑය වටේ ඇවිදලා තියෙනවා, රෑ එළිවෙනකල්. උදේ වෙනකොට රෝම කූපයක්වත් පිච්චිලා නෑ. ඒ අසිරිමත් පූජාව හේතු කරගෙන ඒ බුදුරජාණන් වහන්සේගේ ශරීරයෙන් ප්‍රභාව යොදුන් ගණනාවක් සක්වල පැතිරිලා තිබුනා කියලා කියනවා. ඒ මංගල බුදුරජාණන් වහන්සේ පහළ වෙන කාලෙ සුරුචි කියල බ්‍රාහ්මණයෙක් වෙලා අපේ මහා බෝධිසත්ත්වයෝ ඉඳලා තියෙන්නෙ. ඉතින් මහාබෝධිසත්ත්වයෝ විවරණ ලබාගත්තා. ඒ කල්පයේ පින්වතුනි බුදුරජාණන් වහන්සේලා හතර නමක් පහළ වෙලා තියෙනවා. මංගල, සුමන, රේවත, සෝභිත කියන තථාගතයන් වහන්සේලා. ඉතින් ඒ බුදුරජාණන් වහන්සේලාගේ කාලෙ, සුමන බුදුරජාණන් වහන්සේගේ කාලෙ අතුල කියලා නාරජෙක් වෙලා, රේවත බුදුරජාණන් වහන්සේගේ කාලෙ අතිදේව කියලා බ්‍රාහ්මණයෙක් වෙලා, සෝභිත බුදුරජාණන් වහන්සේගේ කාලෙ සුජාත කියලා බ්‍රාහ්මණයෙක් වෙලා විවරණ ලබාගත්තා අපේ මහාබෝධි සත්ත්වයෝ. ඊටපස්සෙ ආයෙත් කල්ප අසංඛෙය්‍යක් බුදුවරු නෑ. ආයෙ කල්ප අසංඛෙය්‍යකට පස්සෙ අනෝමදස්සී බුදුරජාණන් වහන්සේ මීට කල්ප ලක්ෂයකුත් අසංඛෙය්‍යකට පෙර ඒ අනෝමදස්සී බුදුරජාණන් වහන්සේගේ කාලෙ යක්ෂ සෙන්පතියෙක් වෙලා බුදුරජාණන් වහන්සේගෙන් විවරණ ගත්තා. ඒ කල්පයේ බුදුවරු තුන් නමක් පහළ වෙලා තියෙනවා. පදුම බුදුරජාණන් වහන්සේගේ කාලෙ සිංහයෙක් වෙලා විවරණ ලබාගෙන තියෙනවා. නාරද බුදුරජාණන් වහන්සේගේ කාලයේ තාපසයෙක් වෙලා විවරණ ලබාගෙන තියෙනවා. ආයෙත් කල්ප අසංඛෙය්‍යක් බුදුවරු නෑ. ඔන්න කල්ප අසංඛෙය්‍ය හතර ඉවරයි. මීට කල්ප ලක්ෂයකට කලින් පදුමුත්තර බුදු රජාණන් වහන්සේ පහළ වුනා. පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ කාලයේ ජටිලයෙක් වෙලා විවරණ ගත්තා. මේ පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ කාලයේ තමයි අසූ මහා ශ්‍රාවකයන් වහන්සේලා විවරණ ගන්නේ කල්ප ලක්ෂයකට කලින්. අනෝමදස්සී බුදුරජාණන් වහන්සේගේ කාලයේ තමයි අග්‍ර ශ්‍රාවක දෙනම විවරණ ගන්නෙ. එතකොට පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ කාලේ ජටිල මානවකයෙක් වෙලා විවරණ ගත්තා. ඊටපස්සෙ පින්වතුනි කල්ප හැත්තෑදාහක් බුදුවරු නෑ. මීට කල්ප තිස්දාහකට කලින් සුමේධ කියලා තථාගතයන් වහන්සේ නමක් පහළ වුනා. ඒ කාලෙ උත්තර කියලා මානවකයෙක් වෙලා විවරණ ගත්තා. සුජාත කියලා බුදුරජාණන් වහන්සේගේ කාලෙ සක්විති රජ කෙනෙක් වෙලා

විවරණ අරන් පැවිදි වුනා. ඊටපස්සෙ මීට කල්ප දහදාස් ගාණකට කලින් ආයෙ පින්වතුනි කල්ප දහස් ගාණක් බුදුවරු නෑ. ඊළඟට පහළ වුනා පියදස්සී කියලා බුදුරජාණන් වහන්සේ නමක්. බමුණු පුතෙක් වෙලා විවරණ ගත්තා. පියදස්සී බුදුරජාණන් වහන්සේගේ කාලයේ විශේෂයක් තියෙනවා. අපේ බුදුරජාණන් වහන්සේගේ කාලයේ දේවදත්ත හිටියේ, ඒ වගේ පියදස්සී බුදුරජාණන් වහන්සේටත් සෝණ කියලා විරුද්ධකාරයෙක් හිටියා. එයත් දේවදත්තගේම සහෝදරයා. ඒ කාලෙ හිටපු ඇතෙක් රා කල පොවලා පියදස්සී බුදුරජාණන් වහන්සේ වඩින මාවතට එවලා තියෙනවා. නාලාගිරි දමනය වුනේ යම් සේ ද, ඒ බුදුරජාණන් වහන්සේ ළඟත් දමනය වෙලා තියෙනවා ඒ ඇතා. ඒ කල්පයේ පියදස්සී, අත්ථදස්සී, ධම්මදස්සී කියලා තුන් බුදුරජාණන් වහන්සේලා පහළ වෙලා තියෙනවා. අත්ථදස්සී කියන බුදුරජාණන් වහන්සේගේ කාලයේ සුසීම කියන තාපසයෙක් වෙලා, ධම්මදස්සී බුදුරජාණන් වහන්සේගේ කාලයේ සක්දෙවිඳු වෙලා විවරණ අරන් තියෙනවා. ආයෙත් කල්ප දහස් ගාණක් බුදුවරු නෑ. මීට කල්ප එක්දහස් හත්සීය හයකට කලින් පහළ වෙලා තියෙනවා සිද්ධාර්ථ බුදුරජාණන් වහන්සේ. මංගල කියලා බ්‍රාහ්මණයෙක් වෙලා විරවණ ගත්තා. ඊටපස්සෙ කල්ප දහස් ගාණක් බුදුවරු නෑ, කල්ප අනූ දෙකකට කලින් තිස්ස, ඵුස්ස කියන බුදුරජාණන් වහන්සේලා පහළ වුනා. ඒ කාලයේත් තිස්ස බුදුරජාණන් වහන්සේගේ කාලයේ සුජාත කියලා රජ කෙනෙක් වෙලා අපේ මහා බෝධිසත්ත්වයෝ විවරණ ගත්තා. ඵුස්ස බුදුරජාණන් වහන්සේගේ කාලයේ විජිතාවී කියලා රජ කෙනෙක් වෙලා විවරණ ගත්තා. මිට කල්ප අනූ එකකට කලින් විපස්සී කියලා බුදුරජාණන් වහන්සේ කෙනෙක් පහළ වුනා. අතුළ කියලා නාරජ කෙනෙක් වෙලා විවරණ ගත්තා. සිඛී බුදුරජාණන් වහන්සේ ඒ කල්පයේම පහළ වුනා. අරින්දම කියන රජතුමා වෙලා විවරණ ගත්තා. සිඛී බුදුරජාණන් වහන්සේගෙන් පස්සෙ කල්ප තිහක් බුදුවරු නෑ. ඊටපස්සෙ පහළ වුනා, සිඛී වෙස්සභූ බුදුරජාණන් වහන්සේලාගෙ කාලෙ. විපස්සී බුදුරජාණන් වහන්සේගෙන් පස්සෙ කල්ප හැටක් නෑ බුදුරජාණන් වහන්සේලා. ඊටපස්ස වෙස්සභූ බුදුරජාණන් වහන්සේලා පහළ වුනා. වෙස්සභූ බුදුරජාණන් වහන්සේගේ කාලයේ සුදර්ශන කියලා රජ කෙනෙක් වෙලා විවරණ ගත්තෙ. කල්ප තිහක් බුදුවරු නෑ. ඊටපස්සෙ උදාවුනා මේ මහා භද්‍ර කල්පය. මේ මහා භද්‍ර කල්පයේ කකුසඳ බුදුරජාණන් වහන්සේගේ කාලයේ ඛේම කියන රජතුමා, කෝණාගමන බුදුරජාණන් වහන්සේගේ කාලයේ පබ්බත කියන රජතුමා විවරණ ගත්තා. කාශ්‍යප කියන බුදුරජාණන්

වහන්සේගේ කාලයේ ජෝතිපාල කියන මානවකයා, ඒ කාලෙ තමයි ඝටීකාර කුඹල්කරුවාත් එක්ක එකතු වුනේ. අපේ ගෞතම බුදුරජාණන් වහන්සේ පෙරුම්පුරාගෙන ආපු ගමන ඕකයි. ආන්න ඒ විස්තරය තමයි බුද්ධ වංශ පාලිය කියලා තියෙන්නෙ. ඔය තමයි බුද්ධ වංශ පාලිය කියන ත්‍රිපිටක ග්‍රන්ථය, ඛුද්දක නිකායේ සම්පූර්ණයෙන් සංක්ෂිප්ත කරලා ඔබට කිව්වෙ අද. එතකොට මේ පොතේ තියෙනවා ඒ බුදුරජාණන් වහන්සේලාගේ නම්, අග්‍රශ්‍රාවකයො, මව්පියො, නගරය, ආයුෂ ඒ ඔක්කොම ටික. එතකොට අපිට ඉගෙන ගන්න ඕන කොටස අද දේශනාවෙ හැටියට අපි කතා කලේ. ඉතින් ඒ නිසා ඔය තරම් වූ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේලාගෙන් විවරණ ලබ ලබා ගුණධර්ම පුරුදු කර කර ආපු මේ මිහිමඬල කම්පා කරමින් ලොව්තුරා සම්මා සම්බුද්ධත්වයට පත්වුනු අපගේ ශාස්තෘ ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් ශ්‍රී සද්ධර්මය දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් ආර්ය මහා සංඝරත්නය දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් තිසරණය නිවන් දකින මොහොත දක්වා ඔබගේ ජීවිතයට එකම පිළිසරණ වේවා. ඉතින් ඒ නිසා පින්වතුනි ඒ සෙත් ප්‍රාර්ථනාව, ඒ ආශිර්වාදය, ඒ පිළිසරණ සමගම අපි පින් අනුමෝදන් කරමු.

ඉතින් අද අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන උතුම් බුදුරජාණන් වහන්සේගේ ජීවන ගමන උතුම් බුද්ධ වංශ පාලිය අපි අද ඉගෙන ගත්තා. ඉතින් මේ දහම් වැඩසටහන සඳහා දායකත්වය දැරුවේ එකෝර්ඩ් සෙන්ටර්, සේරුනුවර, කන්තලේ පින්වත් එම්.ජී.එම්. ලක්ෂිත සම්පත් මහත්මයා විසින්. 2020.04.09 වෙනි දින සහ 08 වෙනි දිනට උපන්දින යෙදී තිබුනු නෙත්සර විදුල් සම්පත් පුතාට සහ නෙතුසඳී සයුනි දුලාරා දියණියට නිදුක් නිරෝගී සුවපත් භාවයත්, ධර්මාවබෝධයත් පිණිස. විශේෂයෙන් අපි මේ සියලුම පින් අනුමෝදන් කරමු මේ පින් බලයෙන් බුදුරජාණන් වහන්සේ සූවිසි විවරණ ලබමින් පැමිණි උතුම් සම්බුදු දිවියේ අසිරිමත් ආනුභාවමය බලයෙන් මේ රටටත් මේ ලෝකයටත් ව්‍යසනයක් වූ මේ රෝග ව්‍යසනය දුරු වේවා. වසංගතය දුරුවේවා. ලෝක සත්ත්වයා සුරැකේවා. මනුෂ්‍ය වර්ගයාට යහපත වේවා. මේ කොරෝනා වසංගතය මේ ලොවෙන් තුරන් වේවා කියලා පළමුවෙන් සෙත් ප්‍රාර්ථනා කරමු. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වේවා. මේ පින්වත් ලක්ෂිත මහත්මයා ඇතුළු පවුලේ සියලු දෙනාත් ඔබ සියලු දෙනාත් ගෞතම බුද්ධ ශාසනයත් දෙවියෝ ආරක්ෂා

කරන්වා කියලා දෙවියන්ට පින් පමුණුවනවා. මේ පවුලේ නමිනුත් ඔබ කවුරුත් නමිනුත් මියපරලොව ගිය ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා. ඒ වාගේම පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම ස්වාමීන් වහන්සේලාට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් අනුමෝදන් වී උතුම් චතුරාර්ය සත්‍යය ධර්මයම අවබෝධ වේවා. පින්වත් ලක්ෂිත මහත්මයාටත් ඒ වාගේම ඒ පවුලේ සියලු දෙනාටත්, ඒ වාගේම අප්‍රේල් මාසයේ 09 වෙනි දිනට සහ 08 වෙනි දිනට උපන්දින යෙදුන නෙත්සර විදුල් සම්පත් පුතාට, නෙතුසඳී සයුනි දූලාරා දියණියට මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී සම්පත්තිය මේ දරුවන්ට අනාගත ජීවිතය සඵල වේවා. මේ ඇත්තන්ගේ වෙළඳ ව්‍යාපාර කටයුතු ආදිය දිනෙන් දින දියුණු වේවා. ඔබ සියලු දෙනාට පවුලේ සියලු දෙනාට දෙමව්පියන්ට සියලු යහපත, සහෝදරයන්ට සියලු යහපත සැනසිල්ල උදාවේවා. ඒ වාගේම අපි හැදූ වැඩූ දෙමව්පියන්ටත්, අකුරු කෙරූ ගුරුවරුන්ටත්, ඥාතීන් සියලු දෙනාට, ඔබ සියලු දෙනාට මේ පින් බලයෙන් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ සාරාසංඛෙය්‍ය කල්ප ගණන් පෙරුම් පුරාගෙන අවබෝධ කලා වූ යම් දහමක් වේ නම් ඒ උතුම් ධර්මය අවබෝධ කරගැනීමට වාසනාව ලැබේවා. උතුම් තිසරණයෙන් ඔබගේ ජීවිතයට එකම පිළිසරණ සැලසේවා කියලා එක හිතින් සෙත් ප්‍රාර්ථනා කරනවා. අසිරිමත් සම්බුදු සරණේ අනුහසින් ඔබට සෙත් වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=uFxdnahbisk&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=6

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ අපේ ජීවිතේට සලසාගන්න හැටි ඒ බුදුරජාණන් වහන්සේ ගැන, මේ උතුම් ශ්‍රී සද්ධර්මය ගැන, ආර්ය මහා සංඝරත්නය ගැන හිතේ ඇතිවන පැහැදීම, තිසරණය අපේ ජීවිතය තුළ පිහිටුවා ගන්න හැටි, ඒ සඳහා උපකාරක ධර්මයක් විදියට තමයි මේ දහම් දේශනා මාලාව සිද්ධ වෙන්නෙ. බුදුගුණ නිතර නිතර සිහිවෙන්න, සිහිවෙන්න තමන්ගේ හිතේ පව් ගොඩාක් බැහැර වෙලා යනවා. බුදුරජාණන් වහන්සේගේ ගුණ සිහි කර කර ඉන්න කෙනාගේ හදවත පවිත්‍ර වෙලා යනවා. බුදුරජාණන් වහන්සේගේ ගුණ සිහි කර කර ඉන්න කෙනාට දෙවියන් බඹුන් ගරු කරනවා, ඔහුගේ හදවතේ බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න නිසා. දැන් අපි මේ දහම් පොත් වලට වදින්නේ දැන් අපි කියමුකො මේ පොතුයි, මොකක්හරි ඕපාදූප තියෙන පත්තරයක් තියෙනවා, පත්තරේට වදින්නෑ. දහම් පොතක් තියෙනවා ඒකට වදිනවා. ඔක්කොම කොළනෙ. ඔක්කොම අකුරු අච්චු ගහන කොළ. එතකොට මොකද ඒ දහම් පොතට වදින්නෙ? එහි ඇතුළත් වෙන්නේ ධර්මය නිසා. ඒ වාගේ තමයි මනුස්සයෙක්ගේ හිතේ ධර්මය තිබ්බොත්, නිතර බුදු ගුණ සිහි කළොත්, ඔහුට දෙවියන් බඹුන් වදිනවා, ගරු කරනවා. ඔහුව ආරක්ෂා කරනවා. බුද්ධානුස්සතිය තියෙන එක ලොකු ආශිර්වාදයක්. එතකොට බුදුගුණ නිතර නිතර හිතෙන්න බුදුරජාණන් වහන්සේ ගැන නිතර ඉගෙන ගන්න ඕන. ඉතින් අද මේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන තුළින් ශ්‍රද්ධා රූපවාහිනියෙනුත්, ලක්විරු ගුවන් විදුලියෙනුත් විකාශනය කරවන්න ධර්ම දායකත්වය සලසන්නේ නො.235, අලවත්තේගම, ගල්ලැල්ලගම, මහනුවර යන ලිපිනයේ පදිංචි පින්වත් රන්ජනී චන්ද්‍රාවතී මැණියන්, ඒ වගේම වැලිමඩ කැන්දගොල්ල ලිපිනයේ පදිංචි රන්ජනී හේමලතා මැණියන්, ඒ වගේම ඒකල ආර්.එම්. චන්ද්‍රාවතී කුමාරිහාමි මැණියන්, කියන පිරිස එකතු වෙලා තමයි අද මේ ධර්ම දානය සිද්ධ කරන්නෙ. ඉතින් මේ ඇත්තන්ට බොහෝ පිනක් රැස් වෙනවා, බුදුරජාණන් වහන්සේ ගැන අන් අයට අහන්න සලස්වන මේ ධර්ම දානය හේතු කරගෙන. ඒ වගේම අද විශේෂයෙන් අපි කතා කරනවා බුදුරජාණන් වහන්සේගේ පෙරුම් පුරන සංසාරයේ උන්වහන්සේ සීලය පුරුදු කරපු හැටි. අපූරුයි පින්වතුනි, සිතාගත නොහැකි තරම් විශ්මය දැනවෙනවා ඒ බුදුරජාණන් වහන්සේගේ සීල පාරමිතාව, ඒ සසරේ මහා බෝධිසත්ත්වයෝ

සීලය පුරුදු කරපු හැටි වචනයෙන් කියන්න අපි දක්ෂ නෑ. ඒ වගේම මේ වාගේ පොඩි වෙලාවක් ඇතුලත කියලා නිම කරන්නත් බෑ. ඒ තරම් සීල පාරමිතාව. ඒ තරම් සීලය. අපි දැන් දානය ගැන අපි මීට කලින් වැඩසටහනේ දාන පාරමිතාව ගැන කතා කලා. ඒ දාන පාරමිතාව ගැන අපි කතා කලේ ඉතාමත්, දූවිල්ලක් තරම් දෙයක්. අද අපිට සීලය ගැන කතා කරන්න ලැබෙන මේ අවස්ථාවත් දූවිල්ලක් තරම් දෙයක් කතා කරන්න වෙන්නෙ. එච්චරටම ඒ උත්තමයා පරතෙරටම සීලය පුරුදු කරලා. ඒ සීලය පුරුදු කිරීමට සමාන වෙන්න තවත් කිසි කෙනෙකුට නම් බෑ. සීලය කියන ගංඟාවෙන් එතෙරටම වැඩියා. ඊළඟට පාරමිතාවක් විදියට පිරුවා. මේ සියල්ල අහිමි වෙද්දි සීලය රැක්කා. තමන්ගේ අඟ පසඟ අහිමි වෙද්දි සීලය රැක්කා. තමන්ගේ ජීවිතය අහිමි වෙද්දිත් සීලය රැක්කා. සීල පාරමී, සීල උප පාරමී, සීල පරමත්ථ පාරමී විදියට පාරමී ධර්මයන් පිරුවා. පින්වතුනි මනුස්සයෙක් වෙලා සිල් රැකීම ගැන කවර කතාද, අපේ මහා බෝධි සත්ත්වයෝ සංසාරයේ උන් වහන්සේ සීලය රකිනකොට නිතර පුරුදු කරපු දෙයක් තමයි කිකීව අණ්ඩං චමරීව වාළදිං, බුදුරජාණන් වහන්සේ සීලය ආරක්ෂා කරලා තියෙනවා කිකීව අණ්ඩං, කිකීව කියන්නෙ කිරළා. කිරළා බිජු රකිනවා වගේ. ආකාසය ගොරවනකොට කිරළා කකුල් දෙක උඩට උස්ස ගන්නවා කියනවා බිත්තර තැලෙයි කියලා ආකාසෙ වැටුනොත් කකුල් දෙකෙන් අල්ල ගන්නවා කියන අදහසින්. එච්චර අර බිත්තර රකින්න තියෙන ආශාව. චමරීව වාළදිං, සෙමෙර මුවා වල්ගය රකිනවා වගේ. සෙමෙර කියන හිමාලයේ ඉන්න මුවා, සුන්දර සුදු පාට වලිගයක් තියෙනවා. කැලේ යද්දින් වලිගය ගහක රැඳුනොත් කවදාවත් වලිගෙ කඩාගන්නෑ ඒ ගහ ළඟම මැරෙනවා. එහෙම සිල් රැකලා තියෙන්නෙ. ඊටපස්සෙ සීලය ආරක්ෂා කරලා තියෙනවා පියංව පුත්තං අනුරක්ඛමානා, තමන්ගේ එකම පුතා රකින අම්මා, එකම පුතාට තමන්ට සෙනෙහෙවන්ත ආදරයවන්ත, ළදබොළඳ, සුකෝමල, කිරිසුවඳ වැහෙන පුතාව ආරක්ෂා කරන්නෙ අම්මා යම්සේද, එකම එක පුතයි ඉන්නෙ. ඒ වගේ සිල් රැකලා තියෙන්නෙ. සීලය ආරක්ෂා කරලා තියෙන්නෙ මහාබෝධිසත්ත්වයෝ සංසාරයේ එක ඇහැක් තියෙන කෙනෙක් තමන්ගේ එක ඇහැ ආරක්ෂා කරගන්නවා වගේ. ඊටත් එහා. ඉතින් අද අපි ඉගෙන ගනිමු පින්වතුනි, ඒ මහා බෝධි සත්ත්වයෝ මනුස්සයෙක් වෙලා සිල් රැකීම ගැන කවර කතාද, අතීතයේ මාතුපෝෂක හස්තිරාජයෙක් වෙලා ඉපදිලා, එතකොට අම්මාව රැකගන්න, අම්මා ගොඩාක් වයෝවෘද්ධයි, ඒ හස්තිරාජයා සීලයක් රකිනවා. හිතෙන් හිතුවා, මං ප්‍රාණඝාත කරන්නෑ. මං පව් වැඩ කරන්නෑ කියලා සමාදන් වෙලා

අම්මව ආරක්ෂා කරගෙන අම්මට කන්න බොන්න ගෙනත් දීලා දැන් ඉතින් ඒ ඇතා ඉන්නවා. ඔහොම, ලස්සන ඇතෙක්. එක මනුස්සයෙක් කැලේ අතරමං වෙලා. ඊටපස්සෙ ඒ කැලේ අතරමං වුනාට පස්සෙ ඒ මනුස්සයා යන එන මං නැති තැන අර ඇතා දැක්කා. ඇතා ළඟට ඇවිල්ලා ඒ මනුස්සයාගෙ අතින් අල්ලගෙන පාරට ගෙනත් ඇරලුවා. මොකුත් කරදරයක් නෑ, මේ අසත්පුරුෂයා මේක ගිහිල්ලා රජතුමාට කිව්වනෙ. රජතුමනි හරී කීකරු මහා සද්දන්ත ඇතෙක් ඉන්නවා. ආයෙ හස්තීන් අල්ලන මන්ත්‍ර ඕන නෑ. දමනය කරන්න ඕන නෑ, හොඬවැලෙන් අල්ල ගත්ත ගමන් මාළිගාවට එනවා කිව්වා. ඊටපස්සෙ සේනාව වට කලා. ඒ ඇතාට පුලුවන් කියනවා ඒ සේනාව නෙවෙයි මුළු රාජධානියම සුණුවිසුණු කරන්න පුලුවන් කියනවා එච්චර සවිශක්තිය තියෙනවා කියනවා. ඊතල දහස් ගාණක් ඇඟට වැදුණත් කිසිම ජවය අඩුවක් නොවෙන විදියට සටන් කරන්න පුලුවන් කියනවා. එහෙම තියෙද්දින් පොකුණේ නෙළුම් කඩ කඩා සිටිද්දි ඇතා අර ඇත්තු දමනය කරන රජතුමාගෙ පිරිස ඇවිල්ලා පුතා උඩට වරෙන් කියලා කියනකොටම ඒ වචනෙන්ම උඩට ආවා. කිසි කෙනෙකුට හානියක් නොකරන්න සීලය රකින නිසා. දියං හොඬවැල කියනකොට හොඬවැල දික් කලා. හොඬවැලෙන් අල්ලගෙන රජ මාළිගාවට ආවා. දැන් මාළිගාවෙ ඉන්නවා. මාළිගාවෙ ඉන්නකොට දැන් කෑම බීම දෙනවා කිසිම දෙයක් කන්නෑ, දවස් හතක් කන්නෑ. ඊටපස්සෙ රාජභෝජන හරිගස්සලා ඒ හස්තියාට මංගල රාජභෝජන හස්තියාට තිබ්බා. ඒ හස්තියා ඒ වෙලාවෙ කියනවා අනේ දැන් අර ඇතින්නිය ඔහේ කොටවල් වල හැප්පි හැප්පි මොනවහරි කන්න හොයාගෙන ගිහිල්ලා මොනවහරි කොටේ හැප්පි හැප්පි වැටෙනවා ඇති. මං කොහොමද කන්නෙ. රජ්ජුරුවෝ ඇහුවා මොකක්ද ඒ, කවුද ඒ. කිව්වා මගේ මෑණියෝ, මගේ මෑණියන්ගේ ඇස් දෙක අන්ධයි. ඈ අහවල් මම හිටපු වනයේ ඉන්නෙ. මමයි පෝෂණය කරන්නෙ. දැන් ඇවිල්ලා දින හතක් මං. මගේ මව් දැන් මේ වෙනකල් මොකුත් කන්න නෑ. අන්ධ ඈ ඔහේ කොටන් වල හැප්පි හැප්පි ඇති කියලා කිව්වා. මං කොහොමද ඇහුවා මේවා කන්නෙ. කොහොමද බෝසත් ගුණ. දැන් දරුවනේ උඹලා බලාපල්ලා, බත් කටක් අතට ගන්නකොට තමන්ගේ මව් මතක් වෙනවද කියලා, පියා මතක් වෙනවද කියලා බලන්න පොඩ්ඩක්. සත්පුරුෂ ගුණ ධර්ම කෝ. කෑම වේලක් ගන්නකොට අපේ මව් කෑවද, බීවද. පියා කෑවද, බීවද. අනේ ඒ අයට තියෙනවද නැද්ද කියලා මතක් වෙනවාද කියලා. මේ බලන්න බෝසත් ගුණ. අර භෝජන දකිනකොට දවස් හතක් නොකා ඉදලා භෝජන දකිනකොට තමන්ගේ මව්

මතක් වෙනවා, අනේ මගේ මව් කොටන් වල හැප්පි හැප්පි ඇති, ඇය අන්ධයි. ඉතින් රජතුමාට පුදුම හිතුනා. රජතුමාට පුදුම හිතිලා ඒ රජතුමා ඒ හස්ති රාජයා ආයෙත් වනයට ගිහින් දැම්මා. ඒ වනයට ගිහින් දාලා ඒ මව්ට භාරදුන්නා. ඒ මව් ප්‍රීතිඝෝෂා කරනවා රජතුමනි ඔබ බොහෝ කාලයක් ජීවත් වේවා කියලා. මව්ට සැලකීමේ ගුණයෙනුත්, සීලයේ ගුණයෙනුත් නේද මහාබෝධි සත්ත්වයෝ මේ බැබළී යන්නෙ දෙව් මිනිසුන් අතර. පින්වතුනි වඳින්න වටිනවානෙ, මේ තිරිසන් ජීවිතයක්නෙ. වඳින්න වටිනවානෙ බෝසත් චරිතයට, සම්බුදු බව ගැන කවර කතා ද. තමන්ගේ ජීවිතේට ආදේශ කරලා බලන්න. මොන ශාන්ත දාන්තව හිටියත් තමන්ට ප්‍රශ්නයක් එනකොට මේ සීලවන්තයො යක්කු යක්ෂණියො වෙනවා. මේ තමන්ගේ ජීවිතේ ගියත් සීලයට හානියක් කරගන්නැති හැටි බලන්න. ඊටපස්සෙ මීට වඩා භයානක දෙයක් සිද්ධ වුනා භූරිදත්ත ජාතකයේ, නාගයෙක්. ඒ කියන්නෙ භූරිදත්තයෝ නාග ලෝකයේ සැපය ගැන අහලා ඒ පිනත් එක්ක හිත බැඳිලා නාග ලෝකෙට ආස කලා. නාග ලෝකෙ ඉපදුනා. නාග ලෝකෙ ඉපදුනාට පස්සෙ තමයි දුක හිතුනෙ. ඇයි ඉතින් පින්වතුනි නාගලෝකෙ කෙනෙක් ඉපදෙන්නෙ මෙහෙම. මේ මැරිච්ච ගමන්ම එහෙම්මම නාගලෝකෙ ඕපපාතිකව උපදිනවා දරණ ගොඩේ ඔළුව හංගගෙන උපදිනවා. ඉතින් ඔලුව හාහාපුරා කියලා ඔළුව උස්සනකොට දරණ ගොඩක් එක්ක නයෙක්. කොච්චර දුකක් හිතෙනවා ඇතිද. ඊටපස්සෙ ලොකු දුකක් ඇතිවුනා. ඉතින් නමුත් අර නාගලෝකෙ ඉඳලා කල්පනා කලා මේකෙන් ගොඩ යන්න නම් තියෙන ප්‍රතිපදාව තමයි උපෝසථය රකින එක. සිල් රකින එක. සිල් රැකලා තමයි නාග ලෝකෙන් ගොඩ යන්න තියෙන්නෙ කියලා නාග ලෝකෙන් ගොඩ යන්න නාග ලෝකෙ ඉඳලා සිල් රැක්කා. දැන් උපෝසථය සමාදන් වෙලා නාග ලෝකෙ ඉන්නවා, අර නාග කන්‍යාවො ටික වට කරගන්නවා, සිල් රකින්න බෑ. මහාබෝධි සත්ත්වයන්ටවත් නාග ලෝකෙ ඉඳලා මේ නාග කන්‍යාවො ටික පිරිවරාගෙන සිල් රකින්න බෑ, සිල් කඩනවා. නාග ලෝකෙ කියන්නෙ හරියට සීලයට අනතුරු තියෙන තැනක්. එතකොට නාග ගතියයි. නාග ලෝකයේ ස්වභාවයයි හිතේ පිහිටියාට පස්සෙ අන් අය පොළඹවද්දී තමන්ට රැකෙන්න අමාරුයි. එතකොට තමන් පෙළඹෙනවා. ඒ නාග ගති, නාග ධාතුව පිහිටලා. එතකොට බෝධි සත්ත්ව නාගරාජයා කල්පනා කලා මේක නම් හරියන්නෑ, ඒ නිසා මම යන්න ඕන මනුස්ස ලෝකෙට කියලා. මනුස්සලෝකෙට ඇවිල්ලා තුඹසක දරණ දාගෙන හිටියා. දැන් සීලය සමාදන් වෙලා. එතකොට බලන්න අද කාලෙ වුනත්

ඔය නාග බැල්මක් වැටුනොත් එහෙම මිනිස්සුන්ට, ඒ මිනිස්සුන්ට වෙන ලොකු හානියක් තමයි සීලයට අනතුරු වෙනවා. නාග දිෂ්ටියක් කයක් එක්ක සම්බන්ධ වුනොත් එහෙම සීලයට, විශේෂයෙන්ම බඹසර ආදී සීලයට හානි වෙනවා. ඊළඟට කාමාශාවල් ආදිය වැඩිවෙලා යනවා. ඒක තමයි නාගලෝකෙ ස්වභාවය. ඊළඟ එකක් තමයි නාග ලෝකෙ ඉඳලා මනුස්ස ලෝකෙ ආවත් ඒ නාග ගතිය පිහිටියොත් එහෙම එයාව අන් අයට පොළොඹවා ගන්න පහසුයි. ඉක්මණට එතෙනවා, වෙළෙනවා, අන් අයට බැඳෙනවා. ඉක්මණට ශෝකී වෙනවා. ඒ ස්වභාවවල් එක එක ලෝකවල් වල. ඉතින් ඊටපස්සෙ දැන් මනුස්ස ලෝකෙට ඇවිල්ලා තුඹසක දරණ දාගෙන මං මගේ සීලය කඩාගන්නෑ, ඕන කෙනෙක් මගේ ශරීරය වුනත් අරගෙන ගියාවේ කියලා අර භූරිදත්ත නාගරාජයා ඉන්නවා. ඉතින් ඒ භූරිදත්ත නාගරාජයා දරණ දාගෙන ඉන්නවා දුටුවා එක්තරා මනුස්සයෙක්. ඉතින් මේ නාගයා කල්පනා කලා මෙයා දැක්කොත්, ලස්සන නාගයෙක්නෙ. නාගරාජයෙක්නෙ මේ පොඩියට තුඹස වටේ ඉන්නෙ මේ. දැනගත්තා මං ගැන කාටහරි කිව්වොත් එහෙම ලොකු විනාශයක් වෙනවා. ඒ නිසා මේ කෙනාට, මේ කෙනාව කොහොමහරි පොරොන්දු කරගන්න ඕන කියලා, නාගයා කතා කරලා කිව්වා. මේ මම නාගරාජයෙක්, ඔබ අපගේ විමානයට එන්න. විමානයේ සතුටු වෙන්න, අපි ඉන්න බව කාටවත් කියන්න එපා කියලා. ඊටපස්සෙ මෙයා කිව්වා මගේ පුතත් ඉන්නවා කියලා, එහෙනම් පුතත් ගෙන්නගෙන එන්න කියලා දෙන්නම නාග ලෝකෙට යවලා නාගලෝකයේ සැප සම්පත් දුන්නා. ටික කාලෙකින් ආවා. නාග ලෝකෙ ඉද්දින් රන් රිදී ආභරණ පැළඳගෙන නාග භෝජන කාලා, නාග කන්‍යාවන් පිරිවරාගෙන එහෙම ඉන්නකොට අරයට කිසි දෙයක් ආයෙ කල්පනාවක් නෑ, ඊටපස්සෙ මෙයාලට මනුස්ස ලෝකෙට එන්න හිතුනා. ඊටපස්සෙ මොනවද ඕන සම්පත කිව්වම මොනවත් ඕන නෑ කිව්වා. ඊටපස්සෙ ඒ නාගරාජයාගෙ මාණික්‍යයක් තියෙනවා ඒක දෙන්නද අහපුවාම ඒ මොනවත් එපා ගෙනිච්චොත් ඇති කිව්වා. රත්තරන් වලින් සැරසුනු ඒ දෙන්නා ආපහු මනුස්ස ලෝකෙට ගෙනාවා. මනුස්ස ලෝකෙට ඇවිල්ලා මෙයාලා වතුර ටිකක් නාලා ගොඩ එනකොට රත්තරන් ආභරණ මොනවත් නෑ. අර පරණ හංකඩ ටික ඇඳගෙන ඉන්නවා. හේතුව ඒ ආභරණ වලංගු වෙන්නෙ නාග ලෝකෙට විතරයි. ඊටපස්සෙ දැන් ඔන්න මේ මිනිස්සු දුප්පත් වෙලා ඉන්නවා. ඒ අතර ගුරුලෙක්ගෙන් මන්තරයක් ඉගෙනගෙන තාපසයෙක් එනවා නාගයො අල්ලනවා. යමුනා කියන ගඟ අයිනෙ නාග කන්‍යාවො අර විශාල මාණික්‍යය

රාත්‍රිය තියලා ඒ මාණික්‍යය එළියෙන් නට නටා ගඟ අයිනෙ ඉන්නවා. ඔය නයි ගොඩාක් වතුරත් එක්ක සම්බන්ධයි. ඊටපස්සෙ මොකද වුනේ අර මන්තරකාරයා, නාග මන්තර මතුර මතුර එනවා. ඒ සද්දෙට නාග කන්‍යාවො ටික එහෙම්මම පොළොවෙ කිඳා බැස්සා මැණික ගන්න අමතක වුනා. ඒ මැණික අර මන්තරකාරයා ගත්තා. ඒක අරගෙන ගම හරහා එනකොට අර ගමේ මනුස්සයා දැක්කා මේ මැණික අර භූරිදත්ත නාගරාජයාගෙ. ඊටපස්සෙ ඒ මැණිකට තට්ටු කරලා ඕනම දෙයක් ඉල්ලන්න පුලුවන්. සිතූ පැතූ දේ දෙනවා. ඒ නිසා මේ මනුස්සයා ඒක දන්න නිසා කිව්වා ඔබට හොඳ නාගයෙක් ඉන්න තැන කියන්නම් ඔය මාණික්‍යය මට දෙන්න කියලා. ඊටපස්සෙ කිව්වා එහෙනම් නාගයා පෙන්නුවොත් මාණික්‍යය දෙන්නම්. ඊටපස්සෙ අර මනුස්සයා අර අහිගුණ්ඨිකයාත් ගෙන්නගෙන යනවා. එතකොට ඈතින් එනකොටම තේරුණා නාගරාජයාට මේ මාව බඳින්න තමයි එන්නෙ කියලා. එතකොට අපිට නම් කොච්චර දේවල් හිතෙනවද, අසත්පුරුෂයා නුඹට මම සෙත සලසලා මෙහෙම කරලා මෙහෙම කරලත් උඹ මෙහෙම කරානෙ කියලා හිතෙනවානෙ අපිට. බෝධිසත්ත්වයන්ට එහෙම හිතුන් නෑ, ඊටපස්සෙ බෝධිසත්ත්වයන්ට පුලුවන්, ඊටපස්සෙ අහිගුණ්ඨිකයා නාගයා දැක්ක ගමන් එහෙනම් උඹ මැණික ගනින් කියලා අර මනුස්සයාට දුන්නා. ඒ මනුස්සයාට ඒ මැණික අල්ලන්නවත් පිනක් නෑ, ඒ මැණික බිමට වැටිච්ච ගමන් පොළොව පලාගෙන ආයෙ නාග ලෝකෙට ගියා. ඊටපස්සෙ පින්වත්නි, ඒ මනුස්සයා නාග මන්තර මැතිරුවා. ඇඟේ බෙහෙත් ගාගෙන, කටේ බෙහෙත් හපාගෙන ඒ නාග මන්තර මතුරනකොට නයින්ට දැනෙනවා කියනවා රත්වෙච්චි යකඩ කූරක් කන්වලට අනිනවා වගේ වේදනාවක් දැනෙනවා කියනවා. ඔළුව ඇතුලට කරන්ට් එක වදිනවා වගේ, එහෙම නැත්නම් ගිනියම් කූරක් ඇතුල් කරනවා වගේ දැනෙනවා කියනවා නයින්ට මතුරනකොට. මේ ජාතක පාලියේ තියෙනවා. මං මේ උගන්වන්නෙ ඔබට මේ කරුණු ටික චරියාපිටකපාලියෙන්. මහාබෝධි සත්ත්වයන්ගේ දස පාරමිතා විස්තර වන ඛුද්දක නිකායේ එන දහම් කොටසින්. එතකොට ඒ වෙනකොට ඒ නාග මන්ත්‍රය පිරිවහලා නෑ, ඒ කියන්නෙ සම්පූර්ණයෙන් නාග මන්ත්‍රය මතුරලත් නෑ, අර බෝධි සත්ත්ව නාගරාජයාට පුලුවන් පෙණ ගොබය පුප්පලා විස දුමක් යවලා ඒ මනුස්සයාව එතනම අළු කරන්න පුලුවන්. මහා පුණ්‍ය තේජසට අර ඍද්ධිමත් නාගයාව වසඟ කරන්න බෑ මන්ත්‍ර බලෙන්. හේතුව මන්ත්‍ර බලෙන් වසඟ කරන්න පුලුවන් නයි ඉන්නවා ඒ නයි නෙවෙයි දියබරි. මේ මනුස්ස ලෝකෙ ඉන්න නයි. මේ ඍද්ධිමත් නාගයො

ඒ මන්තර වලින් අල්ලන්න බෑ. ඉතින් අරයා හිතුවේ මේ සාමාන්‍ය නාගයෙක් කියලා. ඊටපස්සෙ මතුරලා මතුරලා මතුරලා ඇඟට කෙළ ගැහුවා. ඒ කෙළ ගහනකොට ඇඟ පිච්චිලා යනවා කියනවා මන්තර බලේට. ඊටපස්සෙ මොකද වුනේ, ඒ මන්තර බලේත් එක්ක මෙයාව අල්ලගෙන ඇඟ තලලා තලලා තලලා, කට මිරිකලා කටට කෙළ ගහනවා කියනවා. මන්තර මතුරලා. බෙහෙත් විසෙන් කෙළ ගහනවා කියනවා. එහෙමවත් ඇස් දෙක ඇරියෙ නෑ කියනවානෙ. සිල් රකින්න ඕනකමට. කොහොමද, සිල් රකින්න ඕනකමට. ඊටපස්සෙ ඇයි ප්‍රාණඝාතයක් වෙයි කියලා. ඊටපස්සෙ නාගයා තලලා තලලා තලලා අරගෙන ගිහිල්ලා දත් කඩලා නටවා නටවා ගියා. ඒ අහිගුණ්ඨිකයා හිතන හිතන ඒවා කරනවා, රතු පාට වෙයන් කියනකොට නයා රතුපාට වෙනවා. පෙන දෙකක් ඕන කියනකොට පෙන දෙකක් මවනවා. ඉතින් මෙහෙම ඉඳලා ඊටපස්සෙ පස්සෙ කාලයේ කොහොමහරි මෙයා මෙතනින් ගැලවිලා යනවා, ඒක දිග කතාවක් භූරිදත්ත ජාතකය. එතකොට කොහොමටත් ඒ අහිගුණ්ඨිකයා රාජමාළිගාවේ නටද්දි ඒ සෑම දෙයක් කරද්දීම ඉවසාගෙන හිටියා කියනවා ප්‍රාණඝාතයක් වෙයි කියලා. කොහොමද තිරිසන් සතෙක් වෙලා සීලය රකින හැටි. ඔය වගේම තියෙනවානෙ සංඛපාල ජාතකයේ. මහාවිශාල ශරීරයක් තිබිලා, වැද්දෝ එකොළොස් දෙනෙක්ද, දොළොස් දෙනෙක්ද උස්සගෙන යනවා ඒ ශරීරය හරහා උල් ගහලා. ඒත් සිල් රකින අදහසින් හිටියේ මනුස්ස ලෝකෙ. ඒ නාගරාජයා ඇවිල්ලා මනුස්ස ලෝකෙට ආවෙ සිල් රකින්න. නාගලෝකෙ සිල් රකින්න බෑ. සිල් කඩනවා. එතකොට ඒ නිසා ඒ සීලය මුල් කරගෙන හිටියා. පින්වතුනි, අර මිනිස්සු උල්වලින් අනිද්දි ඊළඟට ඔසවාගෙන යද්දි වලිගය තලද්දි දත් කඩද්දි ඒ කිසිම තැනක ඇස් දෙකවත් ඇරලා බැලුවෙ නෑ. සිල් කැඩෙයි කියලා. කොච්චර සීලයට ආදරෙයිද. ඊළඟට තියෙනවා පින්වතුනි එක ජීවිතයක එහෙම ඉඳලා එහෙම නයා නටවා නටවා නයා අල්ලලා නටවනකොට ඒ නාග කන්‍යාව තමයි ආකාසයේ ඉඳලා ඒ රජතුමාට විස්තර කරලා මේ නැටෙව්වට මේ නාගයාට මේ පෘථිවිය වුනත් හළු කරන්න පුලුවන් තේජසක් තියෙනවා. ඔය උපෝසථය රකින නිසා තමයි ඔය ඉන්නෙ කියලා, රජතුමනි මෙතෙක් කාලයක් මේ අහිගුණ්ඨිකයා ඔබ සතුටු කලේ, මහානුභාවසම්පන්න නාරජෙක් අල්ලලා, කියලා කරුණු කියලා බේරගෙන එනවා. ඒ යශෝදරා ඒ. ඉතින් බලන්න සසරේ ස්වභාවවල්. ඉතින් එහෙම සිල් රැකලා තියෙනවා. ඉතින් ඊළඟට තියෙනවා අපි කියමු තව ජීවිතයක්. එක ජීවිතයක තිබිලා තියෙනවා, දැන් තිරිසන් කාලෙ ඔහොම ජීවිතේ දෙවෙනි කරගෙන සිල් රැක්කා නම්

මනුස්ස ජීවිතේ ගැන කවර කතාද. ඔය වාගේ සිල් රැකලා තියෙනවා අසංඛෙයය අප්‍රමාණ වාරයක් මහාබෝධි සත්ත්වයෝ. අසංඛෙයය අප්‍රමාණ වාරයක්. ඊළඟට තියෙනවා, ඒක මහීෂරාජක ජාතකය කියලා. එක කුළු මීමෙක්, විශාල දැඩි කුළුමීමෙක්. ඒ කුළුමීමා ඇවිල්ලා ගහක් යට ඉන්නවා. ඉතින් වඳුරෙක් ඇවිල්ලා ඒ කුළුමීමගේ ඇඟේ නැගලා මල මුත්‍රා කරනවා. ඉතින් ඉවසාගෙන ඉන්නවා. මොකද ඒ කුළුමීමා කවදාවත් ප්‍රාණඝාතයක් කරලා නෑ. ඊටපස්සෙ බලන්න දැන් සත්තුන්ගේ ලෝකවලත් මේ මහාබෝධිසත්ත්වයෝ ඉපදුනාට පස්සෙ සත්ත්ව ලෝකෙ අන් අයට වැඩිය ඒ ලෝකෙ වෙනස්. ඔහුගේ ජීවිතය වෙනස්. ඊටපස්සෙ ඒ ගහේ දෙවියා පෙනී ඉඳලා කිව්වා, ඇනපිය ඕකට කියලා. ඊටපස්සෙ කිව්වා මාව පාපයෙහි සමාදන් කරවන්න එපා කිව්වා. මාගේ සීලය නැතිකරන්න එපා කිව්වා. ඊටපස්සෙ ටික කාලෙකින් ඒ කුළුමීමා එතනින් ගියා. තව කුළුමීමෙක් ඒ හරියට ආවා. එතකොට වඳුරා පරණ පුරුද්දට ඇවිල්ලා ආයෙ ඔළුවෙ නැංගා. නැංග ගමන්ම ඔළුව ගසලා බිම දාලා කකුලෙන් පාගලා ඇන්නා. එතකොට පැති දෙකක් තියෙනවා. එකක් ඒ මහාබෝධි සත්ත්වයන්ගේ සීලය. අනිත් එක තමයි මේ අහිංසකව ගුණවත් අය පෙළ පෙළා ඉන්න අය ඉන්නවා, හරි එකෙක් අහුවෙච්චි ගමන් ඉවරයි. ඕක තමයි ලෝකෙ තියෙන ස්වභාවවල්. නමුත් ගුණවතා තමන්ගේ ගුණවත් කම් පුරුදු කරනවා. පීඩා කරන එක්කෙනා පීඩාව පුරුදු කරනවා. ඒ විදියට තමයි මේ ලෝකෙ හොඳ නරක විදියට බෙදිලා යන්නෙ. ඊටපස්සෙ තියනවා මේ සත්ත්වයෙක් වෙලත් සිල් රකින හැටි. ඔය වාගෙ ජීවිත අසංඛෙයයක් මහාබෝධි සත්ත්වයෝ ගණන් කරන්න බැරි තරම් ජීවිත සීලය පුරුදු කරලා තියෙනවා. ඊටපස්සෙ තියෙනවා පින්වතුනි, චුල්ලබෝධි කියලා. ඒ මහා බෝධි සත්ත්වයෝ බ්‍රහ්ම ලෝකෙ ඉඳලා ඇවිල්ලා ඉපදිලා. කාමයට ආස නෑ. යශෝදරාවත් ඇවිල්ලා ඉපදුනා බ්‍රහ්ම ලෝකයේ ඉඳලා ඇවිල්ලා. ඇයත් කාමයට ආස නෑ. ඔය දෙන්නම විවාහ වෙන්න සිද්ධ වුනා. එතකොට පින්වතුනි මේ දෙදෙනා විවාහ වෙලා එකම ඇඳේ ජීවත් වෙනවා අවුරුදු දහස් ගාණක් කාම සංඥාවක් නැතිව. එතකොට එක ඇඳේ බ්‍රහ්මචාරී වෙලා අවුරුදු දහස් ගණන් ඉඳලා තියෙනවා මහාබෝධි සත්ත්වයෝ සිල් රැක රැක ජීවිත අසංඛෙයය ගාණක්. තමන්ගෙ එකම, තමන්ටම වෙන්වූ රන් රුවක් හා සමාන බිරිඳත් එක්ක තරුණ, අවුදුරු දහස් ගාණක් ඉඳලා තියෙනවා බ්‍රහ්මචාරීව. අද කාලෙ බලන්න සාමාන්‍යයෙන් ෆෝන් එකක් ළඟ තියාගෙන කෙනෙකුට බඹසර රකින්න අමාරුයි. එතකොට තමන්ගේ බිරිඳ විදියට රන් රුවක් වගේ ඒ තමන්ගෙ කාන්තාව ළඟ ඉදිද්දි අවුරුදු දහස් ගාණක්

කාම රාගයක් උපද්දවන්නැතිව ඉන්නවා කියලා යමක් ඇද්ද, ඔය විදියටම සිල් රැක්කා අනන්ත අපරිමාණ ජීවිත මහා බෝධි සත්ත්වයෝ. පෙරේත නෑ. ඊටපස්සෙ උදයභද්‍ර ජාතකය බලන්න, අවුරුදු හත්සීයක් ඉඳලා තියෙනවා තමන්ගේ බිරිඳත් එක්ක එක ඇඳේ, ඒ විදියට බ්‍රහ්මචාරී වෙලා සිල් රැක රැක. එතකොට අද කාලෙ සමහරවෙලාවට හතරපෝයට සිල් ගන්න බෑ, හතර පෝය පසෙක තිබ්බා, පෝයටවත් සිල් ගන්නෑනෙ ශ්‍රාවකයෙක් වෙලා. මහාබෝධි සත්ත්වයෝ සංසාරයේ අනන්ත අපරිමාණ වාරවලදී මේ සීලය ආරක්ෂා කලානෙ. ඊටපස්සෙ පින්වතුනි රුරුමික කියලා, හරි ලස්සන කතාවක් මේ ජාතක කතාව, මේ හැම එකකම තියෙන්නෙ සීලය. මුළු ඇඟම රත්තරන් ඒ මුවාගෙ. ඒ නිසා මේ මුවා ඈත ගංගාවේ ඈත තැනක තනියෙන් ජීවත් වෙනවා අනිත් මුවොත් එක්ක එකතු වෙන්නැතිව. ඊටපස්සෙ සීලයක් ආරක්ෂා කරනවා, ඒ මොකක්ද සීලය, කිසී කෙනෙකුට හානියක් කරන්නෑ, ඒක තමයි එයාගෙ සීලය. ඊටපස්සෙ ඔහොම ඉන්නකොට ඔය කාලෙ මේ ගඟේ උඩහ එක සිටුවරයෙක් එක එක්කෙනාගෙන් ධනය ඉල්ලගෙන ණය ගෙවාගන්න බැරිව මිනිස්සු ඇවිල්ලා ණය ඉල්ලුවා. ඊටපස්සෙ කිව්වා මං තැන්පත් කරපු නිධානයක් ගඟ ළඟ තියෙනවා යං කියලා අර ණයකාරයෝ ඔක්කොම ටික ගඟ ළඟට ගෙන්නගෙන ගිහිල්ලා මෙන්න මෙතනයි තියෙන්නේ කියලා වතුර මැද තියෙන තැන පෙන්නන්න යනවා වගේ ගිහිල්ලා ගඟට පැන්නා. මට ණය ගෙවාගන්න විදියක් නෑ, මම මැරෙනවා කියලා. ගඟේ ගහගෙන යනකොට, උල්වල හැප්පෙනකොට, ගල්වල හැප්පෙනකොට කෑ ගගහ යටිගිරියෙන් කෑ ගගහ ගඟේ ගහගෙන යනවා. එහෙම ගහගෙන යනකොට අන්න අර මුවා ඉන්න තැනිනුත් යනවා. ඊටපස්සෙ මුවා කල්පනා කලා මං ඉද්දින් මනුස්සයෙකුට හානියක් වෙන්න එපා කියලා ඉක්මණට ගඟට පැන්නා. ඒ මුවාගේ ශරීරයේ තියෙන බරයි, උස මහතයි, ශරීරයේ තියෙන හැඩි දැඩි බවත් එක්ක ගහගෙන යන්නෑ. ඉක්මණට මුවා ගිහිල්ලා අර මනුස්සයා පිටේ තියාගෙන ආවා. ඇවිල්ලා ඒ මනුස්සයාට පළතුරු තියෙන දේවල් මොනවාහරි කන්න දීලා ඊටපස්සෙ පිටේ තියාගෙන ගිහිල්ලා දැම්මා පාරට උඹ ජීවත් වෙනින්. හැබැයි එක පොරොන්දුවක් වෙනින්, රන්වන් මුවෙක් ඉන්න බව කියන්න එපා කිව්වා. පොරොන්දු වෙලා ගියා. ඒ අතරෙ රජතුමාගෙ බිසව හීනෙන් දැක්කා රත්තරන් මුවෙක් කතා කරනවා. ඉතින් ඒ බිසව කිව්වා මේ වගේ මුවෙක් ඉන්නවා කොහෙහරි මට ඕන, නැත්නම් මම මැරෙනවා කියලා. ඊටපස්සෙ අණබෙර ගැහුවා රටේ හැමතැනම. අර අසත්පුරුෂයා, රජතුමාට

ගිහිල්ලා කිව්වා දෙන වස්තුවක් මට දෙන්න, මුවෙක් ඉන්න තැන කියන්නම්. ඊටපස්සෙ මුවා ළඟට ඇවිල්ලා සේනාව වට කලා. මුවා ඉතින් සද්දෙ එනකොටම දැනගත්තා, ආ එහෙනම් අනිවාර්යයෙන් අර මනුස්සයා ගිහිල්ලා කියලා තමයි. ඊටපස්සෙ මුවා ඉස්සරහට එනකොට සේනාව වටකලා. බැලුවා කවුද රජ්ජුරුවො, කෙලින්ම රජ්ජුරුවෝ ළඟට ගියා. ඒ මුවාට තිබ්බ තේජසටයි, ශක්තියටයි ඒ වෙලාවෙ වේගයෙන් ක්‍රියාත්මක වුනානම් බොහෝ සෙනඟක් මරලා දාන්න පුලුවන් කියනවා, එහෙමවත් කලේ නෑ කියනවා සීලය නිසා. ඊටපස්සෙ රජතුමා, මුවා එනකොට රජතුමා දැන්, හිමීට මුවා එන්නෙ දැන් රජ්ජුරුවො ළඟට. රජ්ජුරුවො හොඳටම බය වුනා ඒ තේජසට. ඊටපස්සෙ විදින්න හදනකොට කිව්වා රජතුමනි විදින්න එපා. මං වාගේ රත්තරන් මුවෙක් මේ වනයේ ඉන්නවා කියලා කිව්වෙ කව්ද කියලා ඇහුවා. ඊටපස්සෙ රජතුමා කිව්වා මෙන්න මේ මිනිහා කිව්වෙ කියලා, ළඟ හිටපු අර මනුස්සයා. එතකොට අපිට නම් මොනවා හිතෙයිද. ඒ මුවාට මොනවා හිතෙන්න ඇතිද. මුවාට මෙන්න මේ වගේ ගාථාවක් මතක් වුනා. කතාවක්. ඒ තමයි දියෙහි යන දණ්ඩට දියෙහි ගහගෙන යන දණ්ඩට යහපතක් කලත් නපුරු වතුරේ ගහගෙන යන අසත්පුරුෂයාට නම් සෙතක් වෙන්න එපා කියලා ඉස්සර කතාවක් තිබ්බා, ඒක හරි නෙව කියලා හිතුනා. ගහගෙන යන දණ්ඩට පිහිටක් වෙතත්, ගහගෙන යන අසත්පුරුෂයෙකුට සෙතක් වෙන එකේ යහපත් නෑ කියලා ඉස්සර තිබ්බ කතාව හරි නෙව කියලා හිතුනා. එච්චරයි හිතුනෙ. ඊටපස්සෙ රජතුමා ඇහුවා ඇයි අහන්නෙ, ඊටපස්සෙ කිව්වා රජතුමා මේ ගඟේ ගහගෙන ගිය මනුස්සයෙක්. මම බේරගත්තා. ඊටපස්සෙ තමයි ඔය ගිහිල්ලා කියලා තියෙන්නෙ. රජතුමාට හිතුනා අම්මෝ මෙහෙමත් අසත්පුරුෂයෙක් කියලා, තමන්ට පිහිට වුනු මුවාට නේද උඹ මේ ගොදුරු කරලා දුන්නේ ධන තණ්හාවෙන් කියලා විදින්න යනකොට මුවා කිව්වා, එපා, මම සිල් රකින කෙනෙක්. මගේ වචනයක් නිසා මේ මනුස්සයාගෙ ජීවිතේ නැතිවුනොත් මටත් හොඳ නෑ, ඔබටත් හොඳ නෑ. ඒ නිසා ඔය මනුස්සයාව බේරන්න. කොහොමද සිල් රැකපු හැටි. ඊටපස්සෙ එහෙම බේරන්න කියලා, රජතුමාත් එක්ක කතා කරලා ගිහිල්ලා බිසවට ධර්මය දේශනා කරලා ආපහු වනයට එනවා. ඉතින් මම දැක්කා මේ හැම තැනකම පින්වතුනි ඒ සීලය රකිනකොට මේ විදියට තමයි රැකලා තියෙන්නෙ. සක ජීවිත පරිච්චාගො තින්නෝ ලහුක්කෝ මම සීල වීතික්කමෝ මය්හං පඨවී උප්පතනාවිය, ඒ මහා බෝධි සත්ත්වයෝ සංසාරයේ සිල් රැකලා තියෙන්නෙ තමන්ගේ ජීවිතේ නැති වෙන එක තණකොළ ගහක්

කඩනවා වගේ පොඩි වැඩක්. ඒ වුනාට සිල් පදයක් කඩන එක මහා පෘථිවිය අනිත් පැත්තට පෙරලනවා වගේ වැඩක් කියනවා. මහා පෘථිවිය අනිත් පැත්තට පෙරලන්න පුලුවන්ද? බෑ. ඒ වගේ තමයි කියනවා තමන්ගේ සිල් පදයක් කඩන්න හිතෙන්නෑ කියනවා. අසංඛෙයය අප්‍රමාණ වාරයක් සංසාරයේ මහා බෝධි සත්ත්වයෝ සිල් රැක්කේ ඒ විදියට. නිරන්තරං ජාති සතං වජ්ජෙය්‍යං මම ජීවිතං නෙව සීලං පබින්දෙය්‍යං චතු දීපාන හේතුකී, කියනවා ජිවිත සිය ගණනක් වුනත් මට අත්හරින්න පුලුවන්. නමුත්, සක්විති රජකම ලැබුනත්, සතර මහා දිවයින් ලැබුනත් සිල් පදයක් නම් කඩන්න බෑ කියනවා. කොහොමද පින්වතුනි, මෙහෙමත් සීලය. මේවා තේරුම් ගන්න තියෙන්නේ තම තමන්ගේ ජීවිතත් එක්ක. සමහර අය පෝය දවසට සිල් අරන් බඩගිනි වෙච්ච ගමන් සිල් පවාරණය කරලා කනවා. තමන්ගේ ජීවිතේ මේ සිල් අරගෙන ඉද්දින් මේ මදුරුවන්ට තලලා පස්සෙ තමයි මතක් වෙන්නෙ සිල් ගත්තා නෙව කියලා. තව දැක්කා මම මේ ජාතක කතා වලම තියෙන ගාථා, යදි චිත්ත වසීහ පෙස්සං පරිහිස්සාමි සීලතෝ සීලේන පරිහේනස්ස උත්තමත්තෝන සිජ්ජති, කියනවා මේ හිතට වශී වුනොත් ඒ කියන්නෙ දැන් අර හිතන්නකො අසත්පුරුෂයා උඹ මාව, බේරපු මනුස්සයාම නේද මාව ගොදුරු කරන්න හදන්නේ කියලා ආපු ආවේගයට හිත යට වුනා නම්, අනිනවා. සිල් නෑ. හැම වෙලාවෙම සිල් පදයක් කැඩෙන්නේම හිතට වශී වුනොත්. හිතට වශී වෙලාමයි සිල් කැඩෙන්නෙ. මේ බලන්න මහා බෝධි සත්ත්වයෝ සසරෙ පුරුදු කරලා තියෙන චේතනා. සිතට වශී වුනොත් තමයි සිල් කැඩෙන්නෙ. සිල් කැඩුනාට පස්සෙ සීලය පිරිහුනු කෙනාට උත්තම අර්ථය ලබන්න බෑ. ඊටපස්සෙ තියෙනවා තව එක් ජාතක කථාවල තිබ්බ ගාථා. කාමං බින්ජතු යං කායෝ ඉදේව විකිරීයතූ නෙව සීලං පබින්දෙය්‍යං විකිරංතෝ බුසංය, මේ ශරීරය ඒකාන්තයෙන් බිඳී යේවා, මෙහිම විසිරේවා, බොල් වී මිටක් මෙන් විසිරෙන කල්හිද සීලය නොබිඳින්නෙමි. සංඛපාල ජාතකයේ ඇඟට උල් අනිද්දි අනිද්දි මේ ඇඟ සුණුවිසුණු වෙලා ගියත් සිල් පදයට නම් හානි කරගන්නෑ කියලා හිතුවා. අපේ මහාබෝධි සත්ත්වයෝ සිල් රැක්කේ ඒ විදියට. සිල් රකින්න ආස නම් මේ විදියට සිල් රැක්ක බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ඊළඟට තියෙනවා අනුරක්ඛිතං මම සීලං නාරක්ඛිං මම ජීවිතං සීලවාහි තදාආසිං බෝධියාහීව කාරණා, මම ජීවිතේ සිල් රකිද්දි මම ජීවිතේ රැක්කෙ නෑ කියනවා, සීලය රැක්කා. මම රැක්කෙ නෑ සීලය රැක්කා. හැබැයි ඒ හැම සිල් පදයක්ම රැක්කෙ ලොව්තුරා සම්බුද්ධත්වය පිණිස. දැන් අද කාලේ, දැන් මේකෙ ලස්සන අර්ථයක් තියෙනවා. හැම සීලයක්ම

රකින්නෙ දුකින් නිදහස් වීම පිණිස. දැන් සමහර කෙනෙක් සිල් රකින්නෙ මෙච්චර කාලයක්, මම සතියක් සිල් රකිනවා. මම මාසයක් සිල් රකිනවා. මම අවුරුදු පහක් සිල් රකිනවා. එතකොට මගේ සීලයේ සිල් කඩාගන්නැත්තේ මම අවුරුද්දක් එක දිගට රැකගෙන ආව සීලය කැඩෙන්න දෙන්න හොඳ නෑ කියලා. ඔය අද කාලෙ හොඳට සිල් රකින ක්‍රම හැබැයි. මහාබෝධි සත්ත්වයෝ සිල් රැක්කේ මම මේ සීලය කැඩුවොත් සම්බුදු වෙන්නේ කොහොමද. මහාබෝධි සත්ත්වයෝ සිල් රැක්කේ මං මේ සිල් රකින්න ඕන, එතකොටයි මම සම්බුදු වෙන්නෙ. එහෙම හිත හිතා. අද කාලෙ කෙනෙක් සිල් රකිනවානම් අනේ මං මේ සිල් රැක්කොත්නෙ මං නිවන් යන්නෙ. රකින සිල් පදයක් ගානෙ, අනේ මං මේ සීලය රකින්නෙ සසර දුකින් නිදහස් වෙන්නනෙ. ඒ විදියට හිතලා රැක්කොත්. ඒ සීලය දෘෂ්ටි විසින් පරාමර්ශණය කරන්නෑ. ඒ සීලය ඔහුව අතරමං කරන්නෑ. ඒ සීලය අනිවාර්යයෙන්ම නිවන පිණිස හේතු වෙනවාමයි. බෝධිසත්ත්වයෝ සිල් රැක්කෙ එහෙමයි. බිරිඳත් එක්ක එක ළඟ ඉන්නෙ කොහොමද රාග සිත් උපද්දන්නැතිව. ඒ ඉන්නෙ ඒ සීලය රකින්නෙ නිවන පිණිස. හැම වෙලාවෙම හිතන්නෙ මං සම්බුදු වෙන්නෙ කොහොමද, මේ විදියට සිල් රකින්නෙ නැතිව. ඔය විදියට සිල් රැකලා තියෙනවා අසංඛෙයය අප්‍රමාණ වාරයක්. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සංසාරෙ. ඒ විදියට සිල් රැක්කේ ජීවිතේ ගැන නෙවෙයි හිතුවෙ සීලය ගැන. ආශ්චයර්යයි, අද්භූතයි. මෙහෙම සිල් රකින්න ඕන නම් මේ සීලය රැක්ක බුදුරජාණන් වහන්සේම සරණ යන්න ඕන. ඊළඟට ඉස්සර තියෙනවා මාතාංග පණ්ඩිතයා, මාතාංග ඍෂිවරයාට තව ඍෂිවරයෙක් සාප කලා. නමුත් ඒ මාතාංග ඍෂිවරයාට පුළුවන් ඒ තමන්ගේ ධ්‍යාන ශක්තියෙන් මේ පෘථිවිය අළු කරන්න වුනත් පුලුවන්. එහෙම තියෙද්දිනුත් අර තාපසයාට හානියක් කලේ නෑ, සිල් රකින්න ඕන නිසා. ඊටපස්සෙ නමුත් ඒ සාපය, සාප කරපු තාපසයාටම වැදුනා, ඒකෙනුත් ඔහුව මුදවන්න උපාය කියලා දුන්නා. මාතාංග ජාතකය දන්න අය ඒ ගැන දන්නවා. මං මේ සීලය ගැන කියන්නෙ. ඊළඟට පින්වතුනි, ධම්මදේව කියලා ලස්සන ජාතක කතාවක් තියෙනවා, කෙටියෙන් කියන්නම්. ඒ තමයි ධම්මදේව කියලා ධර්මයට කැමැති දෙවියෙක් වෙලා මහා බෝධිසත්ත්වයෝ උපන්නා. දේවදත්ත උපන්නා දෙවියෙක් වෙලා අධර්ම දෙවියා, දිව්‍යලෝකෙත් අධර්මය පතුරනවා. එහෙනම් බලන්න පිනකින් දිව්‍යලෝකෙ උපදිනවා. ගිහිල්ලා අධර්මය පතුරවනවා. පිනකින් දිව්‍යලෝකෙ උපදිනවා, ගිහිල්ලා ධර්මය පතුරවනවා. දිව්‍යලෝකෙත් ඔය වාගේ ස්වභාවයක් තියෙනවා.

ඊටපස්සෙ දැන් අර අධර්ම දෙවියා මිනිස්සුන්ට හරීයට සහයෝගය දෙනවා පව් කරන්න, සත්තු මරන්න, හොරකම් කරන්න. පින්වතුනි ලෝකයේ බලවේගයක් තියෙනවා ප්‍රාණඝාතයට. නොපෙනෙන ලෝකයෙන්. දඩයම් කරන කෙනෙක් ගැන විස්තර දන්න, මම ඕක කියනකොට එක ආරණ්‍යයක හාමුදුරු නමක් කිව්වා, හාමුදුරුවනේ ඕක හරිනෙ. මං ඇහුවා ඇයි කියලා. ආනේ හාමුදුරුවනේ අපි දන්න දඩයක්කාරයෙක් ඉන්නවා, ඒ දඩයක්කාරයාට රෑ දෙකට කෙනෙක් කතා කරනවාලු. දන්නෑ කවුද කියලා. ඇහැරවනවාලු. ඇහැරවලා කියනවාලු දැන් ගනින් තුවක්කුව. දැන් ටෝච් එකක් වත් එළියක් මොකක්වත් නෑ, දැන් පාරට බැහැපං. බැස්සා. හරියටම කෙලින් පාරෙ මැදටම විදපං කිව්වා. දැන් මෙයා විදිනකොට ඇත්තටම එතන උඟරෙක්. ඔය විදියට තමයි මෙයා දඩයම් කරන්නෙ. එයාව මෙහෙයවනවා කවුරුහරි. ප්‍රාණඝාතයට සපෝට් එක දෙන බලවේග තියෙනවා. හොරකමට, වැරදි කාම සේවනයට. තවත් කෙනෙක් ගැන පෙරේතකමක් ආසාවක් හිතිච්ච ගමන් තවත් මනුස්සයෙක් ගැන හරි ගෑණු කෙනෙක් ගැන හරි, එහෙමත් සහයෝගය දෙනවා. ගානට එකතු කරවනවා. මේ ලෝකෙන් අධර්මයට බලවේගයක් තියෙනවා. බොන මිනිහාට ඒ බොන එකට අධර්මයෙන් බලවේගයක් තියෙනවා. නතරකරගන්න බෑ, කොහොමහරි එනවා. ඊටපස්සෙ අහවලා ඇසුරු කළොත් බොන එක නතර වෙයි කියලා දැනගත්තොත් ඒ බලවේගය, එයාව බොන එකනෙක් බීමනාවෙන් සුරාවෙන් ඈත් කරවනවානම් යම් කෙනෙක්, එයාව මුණගස්වන්න දෙන්නෙ නෑ, එයා ළඟ වැඩිපුර ඉන්න දෙන්නෙ නෑ, අයින් කරලා දානවා. ඒ ඔක්කොම කරන්නෙ යම් බලවේගයක් විසින්. කරන්න දෙයක් නෑ මේ ලෝකෙ ස්වභාව. ඒ වගේම ධර්මයටත් තියෙනවා. දැන් පින් කරන කෙනාට ඊළඟ පින එනවා. සිල් රකින කෙනාට කොහොමහරි සිල් රැකෙන විදියට හැදෙනවා. එතකොට ධර්මයටත් තියෙනවා ඒක. එතකොට මේ විදියේ අතීතයේ දැන් බලන්න බුදුරජාණන් වහන්සේගේ බෝසත් ජීවිතේ, ධර්ම දෙවියා, අධර්ම දෙවියා කියලා ඉන්නවා. එතකොට මේ දෙදෙනා දැන් ධර්ම දෙවියා, ධර්මයට උදව් කරන දෙවියා හැමදාම පෝයට මිනිස්සු අතරට ගිහිල්ලා ඒ මිනිස්සුන්ගේ හිත් වලට කාවද්දනවා ධර්මය ඇහෙන්න සලස්වනවා, පව් කරන්න එපා, කුසල් කරන්න, ධර්මය පුරුදු කරන්න කියලා. අධර්මය පුරුදු කරන කෙනා මිනිස්සු අතර පතුරවනවා අධර්මය කරපන් කියලා. එහෙනම් අද කාලෙ වුනත් මේ මනුස්ස ලෝකෙ පැතිරිලා යන, මේ ලංකාවෙ යන එක එක මතවාද, එක එක දෘෂ්ටි, එක එක අදහස් වලට නොපෙනෙන ලෝකෙන් බලවේගයක් නැත්ද. හොඳ

පැත්තටත් තියෙනවා. නරක පැත්තටත් තියෙනවා. ඊටපස්සෙ පින්වතුනි, දැන් මොකක්ද වුනේ, අර අධර්ම දෙවියායි, ධර්ම දෙවියායි දවසක් ආකාශයෙන් යද්දි මූණට මූණ මුණගැහුනා. අධර්ම දෙවියා කිව්වා පලයන් අහකට. ඊටපස්සෙ ධර්ම දෙවියා කිව්වා, අර දෙවියන්ට කිව්වා එම්බා අධර්ම දෙවිය, උඹ අධර්මයෙන් ජීවත් වෙන්නෙ. ධර්මයෙන් ඉන්න කෙනෙකුට ඔහොම කතා කරන්න එපා කිව්වා. එහෙම නෑ කිව්වා මං හරි බලවත් කෙනෙක් උඹ අයින් වෙනින් කිව්වා. එතකොට ඒ ධර්ම දෙවියාට පුලුවන් කියනවා, දිව්‍ය තේජස තියෙනවා කියනවා ඉදිරියේ ඉන්න දෙවියා අළු කරන්න පුලුවන්. ඒත් ඒ දෙවියා සීලවන්තයි. ඊටපස්සෙ කිව්වා උඹට මං සමාව දෙනවා, මං උඹලා වගේ අය නිසා මගේ සීලයට හානි කරගන්නෑ කිව්වා. කියලා පාරෙන් අයින් වුනා. ඊටපස්සෙ මහාලොකු කාලසෝප්පියක් දාගෙන අර අධර්ම දෙවියා, අර සීලවන්ත දෙවියා අයින් වුනානෙ, ඒ අධර්ම දෙවියා ඒ පැත්තෙන් ආවා. යම් මොහොතක සීලවන්ත දෙවියා අයින්වෙලා අධර්ම දෙවියා ප්‍රධාන තැන අරගෙන පාරෙන් හුවමාරු වුනාද, ඒ දෙව්වරු යන මාවත් තියෙනවානෙ, ඒ මාවතෙන් හුවමාරු වුනාද, ධර්ම දෙවියාව පහුකරනකොටම කරත්තය යටි පැත්තට හැරිලා ඒ අධර්ම දෙවියා මේ පෘථිවියට වැටුනා. පෘථිවිය දෙබෑ කරගෙන නිරයට ගියා. බුදුරජාණන් වහන්සේ වදාළා දේවදත්ත පොළොව පලාගෙන යන්නේ සසර පුරුද්දටත් එක්ක කිව්වා. සසරෙත් පොළොව පලාගෙන ගියා කිව්වා. අධර්ම දෙවියා, ඒවා නිසාවත් සීලයට හානියක් කරගත්තෙ නෑ. ඒ නිසා මහා බෝධිසත්ත්වයෝ කොයිතරම් ආදරෙන් සෙනෙහසින් සිල් රැක්කාද කියලා බලන්නකො. ඉතින් ඒ නිසා අපි සරණ ගිය ශාස්තෘන් වහන්සේ ඒ වගේ. ඒ වගේ තව ගොඩාක් ජාතක කතා වල, නොයෙක් සිද්ධි වල බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ සීලය අසිරිමත්. ඒක අපිට ඉදිරියට ඒක අහන්න ලැබෙනවා. මේ බෝධිසත්ත්ව කාලෙ. නොරැකපු සීලයක් නෑ. උපෝසථය රැකපු වාර ගාණ අසංඛෙය්‍යයි අප්‍රමාණයි උපෝසථය රැකපු වාර. ඊළඟට අපේ බුදුරජාණන් වහන්සේ බෝධිසත්ත්ව කාලෙ කඩපු නැති සීලයක් තියෙනවා, ඒක දීපංකර පාද මූලයේ ඉඳලා වජිරාසනයේ සම්බුදු වෙන මොහොත දක්වාම ඒ සිල් පදය කැඩිලා නෑ. ඒ සිල් පදය තමයි බොරු කියලා නෑ. සත්‍ය වචන. ඒකනෙ හැම පිරිතකින්ම සෙත් පතන්නෙ කොහොමද. ඒතෙන සච්ච වච්චේන සච්චේන සුවත්ථි හෝතු. කඩපු නැති සීලයක් සත්‍ය, ඒ වගේම උන්වහන්සේ දේශනා කරපු ධර්මයත් සත්‍යය. සෙත් පතන්නේ සත්‍යයෙන්. අනිවාර්යයෙන් සෙත් වෙනවාමයි. දැන් රතන සූත්‍රයේ ගාථාවෙන්

ගාථාව සැබෑ බසින් මෙම සෙත සැලසේවා. ඉදම්පි බුද්ධේ රතනං පණීතං ඒතේන සච්චේන සුවත්ථි හෝතු, සත්‍යය කියන දේ ජීවිතේට කඩලා නෑ. දීපංකර පාද මූලයේ ඉඳලා අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක්. මාසයක් එක බොරුවක් නොකියා ඉන්න බලන්න පුලුවන්ද කියලා. දවස් පහලොවක්, සතියක්. හරි එක දවසක්? පිරිසත් එක්ක ඉන්න එක දවසක් එක බොරුවක් නොකියා ඉන්න, ශාස්තෘන් වහන්සේට පූජා පවත්වන්න. සරණ ගන්න. ජීවිතේට මුළු සසරටම බොරු කියපු නැති බුදුරජාණන් වහන්සේ සරණ යන්න. මුළු හදවතින්ම සරණ යන්න. සිල් රකින්න ආස නම් සරණ යන්න ඕන. ඒ නිසා තමයි පන්සිල් වලට කලින් තියෙන්නෙ මොකක්ද, බුද්ධං සරණං ගච්ඡාමි, ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි. හොඳට ඕන සරණ රැකෙන්න. පන්සිල් තුන් වතාවක් ගන්නවාද. දුතියම්පි, තතියම්පි කියලා? නෑ. නමුත් බුද්ධං සරණං ගච්ඡාමි, ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි කියන එක දුතියම්පි තතියම්පි කියලා සරණ යනවා. සිල් රකින්න නම් හොඳටම ඕන පින්වතුනි සරණ. ගොඩාක් අයගේ සිල් කැඩෙන්නේ සරණේමයි ප්‍රශ්නෙ තියෙන්නෙ. තිසරණේ බලවත් නැති නිසාමයි සිල් කැඩෙන්නෙ. යම් දවසක තිසරණේ හදමඩලේ හොඳට පිහිටියාද, හොඳට සිල් රැකෙනවා. මා එය කිව්වෙ, ඔබ සිල් රකින්න ආස කෙනෙක් නම්, සීලය රැකගන්න ආස කෙනෙක් නම්, සීලයට හානි වෙනවාට කැමැති නැත්නම් බුදුරජාණන් වහන්සේම සරණ යන්න. ශ්‍රී සද්ධර්මයම සරණ යන්න. ආර්ය මහා සංඝරත්නයම සරණ යන්න. ඉතින් අනන්ත වූ සංසාරයේ කාටවත් ළංවිය නොහැකි තරම් අප්‍රමාණ විදියට ජීවිතේ දෙවැනි තැනට දාලා සීලය ආරක්ෂා කල ඒ වගේම තව එක තැනක තියෙනවා තමන්ගේ බිරිඳව ඇදගෙන ගිහිල්ලා රජතුමා ඇයව කපන්න හදනවා. ඒ රජතුමා ඒ බිරිඳව ඇදගෙන ගිහිල්ලත් අර තාපසයින් නමක් වෙලා බෝධිසත්ත්වයෝ ඉඳලා ඉක්මණට ඇස් දෙක පියාගන්නවා, මොකද තමන්ගේ අතවත් ඉස්සෙයි කියලා, ප්‍රාණඝාතයක් තමන්ගෙ අතින් වෙයි කියලා. සිල් කැඩුවෙ නෑ. බිරිඳට ආදරෙයි සෙනෙහසයි, නමුත් සිල් කැඩුවෙ නෑ. ඒක තමයි බාහිර වස්තු නැතිවුනත්, තමන්ගේ ශරීරයේ අංගෝපාංග නැතිවුනත් ජීවිතේ නැතිවුනත් සීලයට හානි කර ගන්නෑ, ඒ නිසා පුදුම සහගත එකක් මේ බුදුරජාණන් වහන්සේ සංසාරෙ බෝධිසත්ත්ව කාලෙ රැකපු සීලය, සීල පාරමිතාව, ඒ නිසා පාරමිතාවක් වශයෙන් සිල් රැකපු අපගේ බෝධිසත්ත්වයන්ගේ, අපගේ සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ

බෝධිසත්ත්ව ජීවිතයම පූජනීයයි. ඒ අනන්ත සීලානුභාව බලයෙන් ඔබ සියලු දෙනාට සෙත් වේවා කියලා ආශිර්වාද කරනවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ නො.235, අලවත්තේගම, ගල්ලෑල්ලගම, මහනුවර ලිපිනයේ පදිංචි පින්වත් රන්ජනී චන්ද්‍රාවතී මෑණියන්, වැලිමඩ කැන්දගොල්ල පදිංචි රන්ජනී හේමලතා මෑණියන් සහ ඒ වගේම ඒකල ආර්.එම්. චන්ද්‍රාවතී කුමාරිහාමි මෑණියන්. ඉතින් මේ පිරිස එකතු වෙලා අද මේ ධර්මදානය සිද්ධ කරනවා, විශාල පිනක් රැස් කරගන්නවා. ඒ වගේම මේ පින් බලයෙන් ඒකාන්තයෙන්ම මේ ලක්දෙරණටත් ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ වසංගතය කොරෝනා වසංගතය දුරින්ම දුරු වේවා. ලක්දෙරණටත්, ලෝකයටත්, මනුෂ්‍ය වර්ගයාටත් යහපත සැනසිල්ලම සැලසේවා. ඒ සියලු දෙනාට මේ බුදුරජාණන් වහන්සේගේ බුදු රජාණන් වහන්සේගේ අනන්ත සීල තේජානුභාව බලයෙන් සම්බුදු ගුණ බලයෙන් මේ ලක්දෙරණටත්, ලෝකයටත් සෙත් වේවා, සියලු ආරක්ෂාව වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඉතින් පින් කැමැති සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී මේ පින්වතුනුත් සියලු දෙනාත් ආරක්ෂා කරත්වා කියලා දෙවිවරුන්ට පින් අනුමෝදන් කරනවා. ඒ වගේම රන්ජනී හේමලතා මෑණියන්ගේ සහ ස්වාමිපුරුෂයාගේ නමින් මියපරලොව ගිය දෙමව්පියන්ට සහෝදර සහෝදරියන්ට පින් අනුමෝදන් වේවා. ඒ වගේම මව් පාර්ශ්වයෙන් පිය පාර්ශ්වයෙන් ඔබ කවුරුත් නමින් මියපරලොව ගිය ඒ වගේම චන්ද්‍රාවතී කුමාරිහාමි මෑණියන්ගේ නමින් මියපරලොව ගිය සියලූම ඥාතීන්ට, ඔබ කවුරුත් නමින් මියගිය ඥාතීන්ට මේ පින් අනුමෝදන් වෙත්වා කියලා පින් පමුණුවනවා. පරලොව සැපය පිණිස මේ පින හේතුවේවා කියලා, ඒ වගේම පින් පමුණුවනවා පරම පූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේටත් නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය පිණිස මේ සියලු පින් අනුමෝදන් වේවා. ඒ වගේම සියලූම ස්වාමීන් වහන්සේලාටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් මේ පින් අනුමෝදන් වී ගෞතම සසුනේ උතුම් සීල තේජස පතුරුවාගන්න, සීලය හොඳින් ආරක්ෂා කරගන්න සීල පාරමිතාවේ අනුහසින් සෙත් වේවා, ඒ සීල පාරමිතාවේ අනුහසින් ආශිර්වාද වේවා, නිවනින් සැනසෙත්වා කියලා පින් පමුණුවනවා. ඒ වගේම නො.235, අලවත්තේගම, ගල්ලෑල්ලගම, මහනුවර ලිපිනයේ පදිංචි රන්ජනී චන්ද්‍රාවතී මෑණියන්ටත්, ඒ වගේම ඒ පවුලේ සහෝදරයින් සියලු දෙනාටත්, ඒ

සහෝදරියන්ගේ දරුවන් සියලු දෙනාටත් සෙත් වේවා. ඒ වගේම වැලිමඩ කැන්දගොල්ලේ රන්ජනී හේමලතා මැණියන්ටත් ඒ පියාණන්ටත් පවුලේ සියලු දෙනාටත් ඒ අපි රැස් කරන සියලූම පින් ඒකාන්තයෙන් අනුමෝදන් වේවා. ඒ වගේම ඒකල ආර්.එම්. චන්ද්‍රාවතී කුමාරිහාමි මැණියන්ටත්, ඒ පවුලේ දරුවන්ටත්, ඥාතීන්ටත් සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ සියලු දෙනා නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සියලු දෙනාට උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගැනීම පිණිසම මේ පින් හේතු වාසනා වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම රැස් කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් රෝගාතුරව සිටින රන්ජනී චන්ද්‍රාවතී මැණියන්ටත්, ප්‍රේමලතා මැණියන්ටත් නිදුක් නිරෝගී සුවපත් භාවය පිණිස මේ පින් හේතු වාසනා වේවා කියලා ඒ වගේම මද්දිරියා පියාණන්ටත් ඒ පවුලේ සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී සුවත්, ධර්මයේ අනුහසින් ඒ වගේම බුදුරජාණන් වහන්සේගේ අනන්ත සීල තේජානුභාව බලයෙන් සීලවත් ගුණවත් ජීවිත ගත කරන්න වාසනාව ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම ඔබ සියලු දෙනාටත් මව් දෙමව්පිය ඥාතී බන්ධුමිත්‍රාදීන්ට, ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනියේ ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම ධර්ම දායකත්ව සපයන සියලු දෙනාට පින් සිදු වේවා. කාටත් බුදුරජාණන් වහන්සේගේ සීල පාරමිතාවේ අනන්ත ගුණ තේජානුභාව බලයෙන් උතුම් සම්බුදු සරණේ අනුහසින් ගෞතම බුදු සසුනේ පිහිට ලබන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=iPFPelpJ0Fc&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=7

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාධු සාධු සාධු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාධු සාධු සාධු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අදත් අපි අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සමඟ මේ එකතුවෙලා ධර්මය ශ්‍රවණය කරන්නෙ. අද උතුම් දහම් වැඩසටහන ලක්විරු ගුවන්විදුලියේත් ශ්‍රද්ධා රූපවාහිනියේත් විකාශනය කරවන්නේ හන්දෙස්ස, හියාරාපිටිය ලිපිනයේ පදිංචි පින්වත් එම්.කේ.ආර්. දුනුවිල දියණිය ඇතුළු පවුලේ සියලු දෙනා විසින්. මියපරලොව ගිය ගම්පොල, උඩුවැරැල්ල පාරේ පදිංචිව සිට විශ්‍රාමලත් විදුහල්පති දුනුවිල ජේ.ඩී.බී. රාමනායක පියාණන්ට සහ හීන්මැණිකේ ජයසුන්දර මෑණියන් ඇතුලු සියලුදෙනාට පින් අනුමෝදන් කිරීමත් මුල් කරගෙන. ඒ නිසා අද ධර්ම දානයේ පිනෙන් ඔබට බොහෝ පිනක් රැස් වෙනවා, ඉතින් ඒ නිසා මේ ධර්ම දානයේ පින ගැන ඔබ පළමුවෙන් සන්තෝෂයට පත්වෙන්න ඕන. පින්වතුනි, මේ නිවන් මාර්ගයේ ගමන් කරන්න තියෙන්නෙ පිළිවෙලට. බුදුරජාණන් වහන්සේ වදාළා මේ බුද්ධ ශාසනයේ ශ්‍රාවකයා, මේ බුද්ධ ශාසනයට ගොඩාක් මනාප ඇලී වාසය කරන්න කාරණාවක් තමයි මේ පිළිවෙලට පුරුදු කරන්න තියෙන නිසා. හරියට අසුරයෝ මුහුදට ආස කරනවා වගේ. එතකොට අසුරයන් මුහුදට ආසා කරන්න එක කාරණාවක් තමයි, මුහුද ගැඹුරු වෙන්නෙ හිමීට, වෙරළ ළඟම ගැඹුරු නෑ. හිමීට හිමීට තමයි ගැඹුරු වෙවී යන්නෙ. ආන්න ඒ වගේ තමයි මේ බුද්ධ ශාසනයේ පිළිවලින් තමයි ගැඹුරට යන්නෙ. අනුපුබ්බ කිරියා, අනුපුබ්බ පතිපදා, අනුපුබ්බ සික්ඛා. අනුපූර්ව පිළිවෙලට තමයි මේකෙ ක්‍රියා කරන්න තියෙන්නෙ, හික්මෙන්න තියෙන්නෙ, ප්‍රතිපදාවෙ හැසිරෙන්න තියනේනෙ. ඒකයි ඔබට මුල ඉඳලාම කියන්නෙ ඉස්සෙල්ලාම පුහුණු වෙන්න. මුල් පියවර වල ගොඩාක් පුහුණු වෙන්න. ඒ පුහුණු වුනාට පස්සෙ තමයි ටික ටික මේ ධර්මයේ ගැඹුරකට අපිට යන්න ලැබෙන්නෙ. ධර්මයේ ගැඹුර කියන්නෙ අමුතු ගැඹුරක් නෙවෙයි, අපේ ජීවිතය තුළ තිබෙන අපිම මුලා වුන දේවල් වල සත්‍යය ස්වභාවය තේරෙන්න ගන්නවා. අමුතු ගැඹුරක් කියලා බහින්න දෙයක් වත්, කිඳාබහින්න දෙයක්වත් නෙවෙයි. මනසින් තේරුම් ගන්නවා දෙයක්. නුවණින් තේරුම් ගන්නා දෙයක්. ඉතින් මේ ජීවිතේ සත්‍යය ස්වභාවය. ඒ ජීවිතේ සත්‍යය

ස්වභාවය තේරුම් ගන්න කුසල සම්පත්තිය උපද්දවන්නෙ ඒ සත්‍යය ධර්මය දේශනා කරපු ශාස්තෘන් වහන්සේ කෙරෙහි තියෙන පැහැදීමත් එක්ක. ඉතින් ඒ නිසා පැහැදීම කියන එක සුලු දෙයක් නෙවෙයි. මනුස්සයෙක්ගෙ පින්වතුනි, අමනුස්සයෙක් මනුස්සයෙකුට ආරූඪ වුනත්, ඊටපස්සෙ මේ ලෝකෙ යම් කිසි මාර බලවේගයක් වුනත් මොකකින් හරි හානි කරන්නෙ මනුස්සයාගේ පැහැදීමට. ඉතින් ඒ නිසා ප්‍රසාදය කියන එක සුලුදෙයක් නෙවෙයි. චේතෝ පසාද හේතුහි සත්තා ගච්ඡන්ති සුග්ගතිං, සුගතියේ පවා යන්නෙ පහන් සිත් ඇති අය. ඒ නිසා පහන් සිතට තමයි පින්වතුනි ගොඩාක් අර්බුද ඇතිවෙන්නෙ. ඒ නිසා සිතක් පහදවා ගන්නවා කියන එක සුලු දෙයක් නෙවෙයි. යම්කිසි කෙනෙකුට සිත පහදවා ගන්න පුලුවන්නේ බුදුරජාණන් වහන්සේගේ ඍද්ධියක් දැකලා නම් බුදුරජාණන් වහන්සේ ඍද්ධි ප්‍රාතිහාර්ය පානවා එයාගෙ චිත්ත ප්‍රසාදය ඇති කිරීම පිණිස. ඒ යම්කිසි කෙනෙකුට චිත්ත ප්‍රසාදය ඇතිවෙන්නේ බුද්ධරශ්මි ධාරාව නිසා නම් බුදුරජාණන් වහන්සේ බුද්ධරශ්මි ධාරාව විහිදවනවා. මේ වාගේ හිතේ පැහැදීම කියන එක සුලුපටු දෙයක් නෙවෙයි. ඒකයි ආනන්ද ස්වාමීන් වහන්සේ බුදුරජාණන් වහන්සේගේ ලෝකධාතු ගැන තියෙන ඥාණය ගැන පැහැදිලා, ආශ්චර්‍යයියි, අද්භූතයි මාගේ ශාස්තෘන් වහන්සේ මෙවැනි වූ ඥාණයන්ගෙන් යුක්තයිනේ කියලා පැහැදුනා සුළු මොහොතක්. ඉතින් ඒකට උදායී හාමුදුරුවෝ ඔබ ඇයි මේකට මෙච්චර උදම් අනන්නේ කියලා කියනකොට බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ වදාළා, උදායී එහෙම කියන්න එපා, ඔය ආනන්දට මේ සුළු මොහොතට ඇතිවෙච්ච චිත්ත ප්‍රසාදයෙන් ආනන්ද සසරට යන කෙනෙක් නම් හත් වතාවක් සක්‍ර පදවිය, දෙදෙව් ලොවට අධිපති සක් දෙවිඳු වෙලා උපදිනවා. සත් වතාවක් සක්විති රජ වෙනවා. දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් සමන්විත මේ පෘථිවියටම අධිපති රජ කෙනෙක් වෙලා හත් වතාවක් උපදිනවා. ඉතින් නමුත් මේ ආනන්ද මේ ජීවිතේම කෙලෙස් නසනවා කියලා බුදුරජාණන් වහන්සේ වදාළා. බලන්න මේ එක මොහොතක් ඇතිවන චිත්ත ප්‍රසාදය. ඒ නිසා මේ බුදුරජාණන් වහන්සේගේ ජීවන ගමන, මහා බෝධිසත්ත්ව ගුණය දැන් සමහර වෙලාවට පින්වතුනි මහා බෝධිසත්ත්වයන්ගේ සසරේ, සසරේ තිරිසන් සතෙක් වෙලා, උදාහරණයක් ගත්තොත් එහෙම මහාකපි ජාතකය, තිරිසන් සතෙක් වෙලා, ඒ තිරිසන් සතාගේ ශරීරය ඇටකෝටු ටික එකතු කරලා ස්තූපයක් බැඳලා වැඳපු රජ්ජුරුවෝ සුගතියේ ගියා. මහා බෝධි සත්ත්වයන්ගේ සංසාරයේ ජීවිතයේ ඒ වගේ අන් අයට සැපය සලසනවා නම් උතුම් ධාතූන්

වහන්සේලාට, උතුම් බෝධීන් වහන්සේලාට වන්දනා මාන කරන අයට කොයිතරම් නම් සැපයක් සොම්නසක් අනාගතයේ බොහෝ යහපත පිණිස කොයිතරම් නම් පින් රැස්වෙනවාද, ඒ වන්දනාමාන වලින්. ඉතින් ඒක තේරුම් ගන්න ඕන. නොදන්නා ජනයා මේ දහම් මාර්ගයේ පිළිවෙලටයි යන්නේ කියලා දන්නැති ජනයා එකපාරටම මුහුද ළඟට ගිය ගමන්ම දැන් මරියානා ආගාධයට පනින්න තමයි බලන්නෙ. නමුත් ඉන්නෙ වෙරළේ. ඉතින් ඒ නිසා පින්වතුනි තමන් ඉන්න තැන හොඳට තේරුම් ගන්න. ක්‍රමානුකූලව යන්න. මතක තියාගන්න මේ මහමෙව්නාවෙන් කරන දහම් ප්‍රචාරයේදී, ඒ මහමෙව්නාවෙන් කෙරෙන ධර්ම ප්‍රචාරයට නියමුවෙක් ඉන්නවා. ඉතින් ඒ අපගේ පරමපූජනීය ගුරු දේවෝත්තම ලොකු ස්වාමීන් වහන්සේ, එතකොට ලොකු ස්වාමීන් වහන්සේ තමයි දන්නේ මේ මේ විදියටයි ධර්ම ප්‍රචාරය කරන්න ඕන කියලා. ඉතින් ඒ නිසා මිහිඳු මහරහතන් වහන්සේ පරම පූජනීය මහා ධර්ම දූතයාණන් වහන්සේ, උන්වහන්සේ ලංකාවට ඉස්සෙල්ලාම වැඩලා මේ ලංකාවේ මිනිස්සුන්ට ඉස්සෙල්ලාම මාර්ගඵල යැව්වෙ නෑ, ඉස්සෙල්ලාම මිහිඳු මහරහතන් වහන්සේ කළේ, හතලිස්දාහක් පිරිස තිසරණයේ පිහිටෙව්වා. හතළිස්දාහක් තිසරණයේ පිහිටවලා ඊටපස්සෙ සුගති දුගති ගැන කියලා දුන්නා. ඒ තමයි නිරය වර්ණනාව, ප්‍රේත වර්ණනාව. ඒ විස්තරය මේ ප්‍රේත වත්ථු විමාන වත්ථු කියලා දුන්නා. ඊටපස්සෙ තමයි මේ තිසරණයේ පිහිටවලා, පින් පව් ගැන කියලා ඊටපස්සෙ තමයි ටික ටික ටික දේවදූත සූත්‍රය, බාලපණ්ඩිත සූත්‍රය වගේ අපායේ විස්තර කියලා දීලා ඊළඟට තමයි ටික ටික ටික සසර ගමන අනවතග්ග සංයුත්තය සසර ගමන, ඊළඟට සච්ච සංයුත්තය, ඒ වගේ තමයි ටික ටික තමයි ධර්ම ප්‍රචාරය කලේ. එතකොට අපිට හොඳට තේරෙනවා කොච්චර කාලෙක ඉඳලා බණ ඇහුවත්, මිනිස්සුන්ට තිසරණය පිහිටනවා අඩුයි. දැන් ඔය ළඟදි ශ්‍රද්ධා රූපවාහිනියට කෙනෙක් කතා කරලා කියලා තිබ්බා අපි කොළඹ කුප්පියාවත්තෙ යන කාලෙ ඉඳලා බණ අහන්න පටන් ගත්තෙ. ඒ නිසා දැන් මොකද මේ ධර්ම සාකච්ඡා වල අනිත්‍ය ගැන කතා කරන්නැත්තෙ. මොකද අනිත්‍යය ගැන කතා කළත් බඩුමුට්ටු කැඩෙන බිඳෙන ඒවා ගැන කතා කරනවා කියලා හාමුදුරුවන්ට හොඳටම බැනලා එවලා. ඉතින් මට ඒ වෙලාවේ ඒ ස්වාමීන් වහන්සේලා ඒක පෙන්නුවා, මම කල්පනා කලේ අතීතයේ ඉඳලා බණ ඇහුවා කියලා කිව්වත්, ලොකු ස්වාමීන් වහන්සේගේ පිටිපස්සෙ හෙවනැල්ල වගේ ගියා කියලා කිව්වත්, තිසරණය හිතේ පිහිටලා නැත්නම් ඒකයි බුදුරජාණන් වහන්සේ වදාළේ, සිවුරුකොනේ එල්ලිලා හිටියත්

වැඩක් නෑ කිව්වා. එයාගේ හිතට හරියට ඒ ධර්මය ගිහිල්ලා නැත්නම්. ඒ නිසා ගොඩාක් අය තමන්ගේ මහන්තත්තකමට ධර්මය අහන්න ගත්ත කාලය තමයි කියන්නෙ, මම අවුරුදු විස්සක් බණ අහනවා, බලනකොට සංඝයාට ගැටිලා. සංඝයාගේ අඩුපාඩු දකිනවා, ධර්මයේ අඩුපාඩු දකිනවා. ඉතින් ඒ නිසා ඒ අයට නිවන් මාර්ගය වැහිලා යනවා. කොයිතරම් මහලොකු මිනිස්සු වුනත් නිවන් මාර්ගය වැහෙනවා. ඉතින් ඒ නිසා තමයි අහිංසකව මේක පින්වතුනි සසරේ අපිට ගොඩාක් වුනේ නිවන් මාර්ගය දැන් අපි සූවිසි බුදුවරු බුදුරජාණන් වහන්සේලා ගැන කතා කලා මීට කලින් වැඩසටහනේ. ඔය හැම බුදුරජාණන් වහන්සේගේම ශාසනයේ අපි හිටියානෙ. දීපංකර පාදමූලයේ අපේ බුදුරජාණන් වහන්සේ විවරණ ගන්නකොට අපි හිටියානෙ. එතකොට ඔය තණ්හංකර ආදී අටවිසි බුදුවරුන්ගේ කාලයේ අපි හිටියානෙ. ඉතින් දැන් මොකද වුනේ අපිට. ඒ සෑම බුද්ධ ශාසනයකම අපි සද්ධානුසාරීවත් වෙන්න බැරිවුනා. ධම්මානුසාරීවත් වෙන්න බැරිවුනා. මේ බුද්ධ ශාසනයේ ශ්‍රද්ධාවටවත් අපිට සසරේ එන්න බැරිවුනා. ඒ නිසා තමයි සසරේ මේ වැටි වැටී යන්නෙ. මේ ලැබිච්ච අවස්ථාවත් පණ්ඩිතමානයෙන් නැති කරගන්න එපා පින්වත්නි. හොඳට තුණුරුවන්ට පහදින්න. පැහැදිලා ඔබ ටික ටික මේ නිවන් මාර්ගය පුරුදු කරන්න. ත්‍රිපිටක ධර්මය පරිවර්තනය කරලා තියෙනවා, ඊළඟට පින්වත් ලොකු ස්වාමීන් වහන්සේගේ නොයෙක් දහම් වැඩසටහන් තියෙනවා, අපි මේ ශ්‍රද්ධා රූපවාහිනියෙන් මේ විදියට අපි වැඩසටහන් කරගෙන ගියත් උදේ හවස ලොකු ස්වාමීන් වහන්සේගේ දහම් වැඩසටහන් වෙනම විකාශනය වෙනවා. අන්තර්ජාලයේ ලොකු ස්වාමීන් වහන්සේගේ වැඩසටහන් වෙනම තියෙනවා, පොත්පත් ටික තියෙනවා. ඉතින් මේවා ටික ටික පුරුදු කරගන්න පුලුවන්නෙ. තමන්ගේ තියෙන නොහැකියාව හංගාගෙන ලෝකෙට නින්දා අපහාස කරනවා මේ බාල ජනයා. ලැබිච්ච අවස්ථාවත් අහිමි කරගන්නවා. කෝකාලික පවා බුදුරජාණන් වහන්සේ දැක දැක සාරිපුත්ත මොග්ගල්ලාන උත්තමයන් වහන්සේලා දැක දැකම නිරයේ ගියා. මේක පුදුම දෙයක් පින්වතුනි, හදවතේ පැහැදීම කියන එක රඳවාගත්තෙ නැත්නම්. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ ආපු ගමන් මාර්ගය ගැන අපි කතා කරන්න මේ කාලය යොදාගත්තෙ අසිරිමත් සම්බුදු සරණ. පින්වතුනි ඒ බුදුරජාණන් වහන්සේ ඒ සා උතුම් සම්මා සම්බුදුරජාණන් වහන්සේලාගේ ශාසන වල විවරණ ධර්ම ලබමින් එන ගමනේදී ඒ මහා බෝධිසත්ත්වයන්ගේ චරිතය ගුණධර්ම දහයකට ගොනුවුනා. එතකොට ඒ චරිතය ගොනු වෙන්නේම ගුණ ධර්ම දහයකට. ඒ ගුණධර්ම දහය

පුරුදු කරන්න බැරි ජීවිතයක උපදින්නෑ. පුංචි සත්තු පණුවො, කෘමී සත්තු ඒ සත්තු අතර උපදින්නෑ, මහා බෝධි සත්ත්වයෝ විවරණ ලබපු දවසේ ඉඳලා. තිරිසන් සතෙක් වෙලා හරි උපදිනවානම් උපදින්නෙ තිරිසන් සතාගෙත් මොකක්හරි ගුණයක් තියෙනවා. ඒ වාගේ තැනක තමයි උපදින්නෙ. හැබැයි ඔය සසරෙ එන ගමන් වරදිනවා. ඒ වැරදිච්ච තැන් විපාක දෙනවා. හැබැයි කොච්චර විපාක දුන්නත් අවීචි මහා නරකාදියේ උපදින්නෙ නෑ කවදාවත් මහා බෝධි සත්ත්වයෝ. කවදාවත් මහා බෝධිසත්ත්වයෝ මේ සසර ගමන් කරද්දි ආනන්තරීය පාපකර්මයක් සිද්ධ කරගන්නෑ තමන්ගෙ අතින්. ඒ කියන්නෙ අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් කාලෙ එක කල්පයක් වත් පාරමී පුරන්නැතිව අත්හැරෙන් නෑ. බ්‍රහ්ම ලෝකයේ ගියත් බ්‍රහ්ම ලෝකයේ ආයුෂ තියෙනවානෙ කල්ප හැටදාහ, කල්ප මෙච්චරයි කියලා. එතකොට මේ බ්‍රහ්මයා, මහාබෝධි සත්ත්වයෝ බ්‍රහ්ම ලෝකෙ ඉපදුනාට පස්සෙ බ්‍රහ්ම ලෝකෙ සුළු කලෙකින් චුත වෙනවා. දැන් බලන්න මනුස්ස ලෝකෙට ආපු අයට අවුරුදු එකසියවිස්සයි, අවුරුදු සීයයි වයස කියලා කිව්වට හැම කෙනාම අවුරුදු සීයක් එකසිය විස්සක් ඉන්නෙ නෑනෙ. එක එක වයසින් මනුස්සයා ජීවිතේ අත්හරිනවානෙ. ඒ වගේ තමයි බ්‍රහ්ම ලෝක වල කල්ප පන්සීය කල්ප හැටදාහ ඔය විදියට තියෙනවා. තිබ්බට මහා බෝධිසත්ත්වයෝ ඉපදෙද්දි එච්චර කාලයක් ඉන්නෙ නෑ. හැම කල්පයකම යම්කිසි පාරමිතාවක් පුරනවා. ඉතින් ඒ නිසා කල්පයක් මිස් වෙනවා, ඒ කියන්නෙ කල්පයක් මගහැරිලා යනවා පින්වතුනි ආනන්තරීය පාපකර්මයක් කළොත් එහෙම. ඒ නිසා කවදාවත් මහාබෝධි සත්ත්වයන්ගේ අතින් ආනන්තරීය පාප කර්මයක් සිද්ධ වෙන්නෙ නෑ. ඊළඟට මහා බෝධිසත්ත්වයෝ සංසාරෙ ගමන් කරද්දි කවදාවත් ප්‍රේත ලෝකෙක උපදින්නෑ. ඊළඟට දුක්ඛිත අසුර ලෝකවල උපදින් නෑ මහා බෝධිසත්ත්වයෝ. මහා බෝධිසත්ත්වයෝ පින්වතුනි, ඒකාන්තයෙන්ම යම්කිසි ගුණයක් පුරුදු කරන්න පුලුවන්ද, ආන්න ඒ වගේ ජීවිතයක තමයි උපදින්නෙ. මහා බෝධිසත්ත්වයෝ ඒ පාරමී පුරන්න බැරි තැනක උත්පත්තිය ලබන්නෙ නෑ. එතකොට තව තියෙනවා, ඒ මහා බෝධිසත්ත්වයෝ අසංඥ ලෝකෙක කවදාවත් උපදින්නෙ නෑ. ඊළඟට මහා බෝධිසත්ත්වයෝ කල්ප ගණන් ජීවිත වල ආයුෂ තියෙන අරූප තලයේ අරූප ලෝකවල කල්ප ගණන් උත්පත්තිය සිද්ධ වෙන්නෙ නෑ, කොහෙන් හරි පාරමී ධර්මයක් පුරන්න පුලුවන් ජීවිතයක තමයි උපදින්නෙ. ඉතින් ඒ අතරතුර නිරයට වැටිච්ච තැන් තියෙනවා, මූගපක්ඛ ජාතක කතාවෙදි විස්තර වෙනවානෙ, අවුරුදු විස්සක් රාජ්‍යය කරලා

අවුරුදු අසූදාහක් නිරයේ වැටිච්ච විස්තරයක්. එතකොට ඒ විදියට විපාක විඳලා නමුත් ආයෙත් මනුස්ස ජීවිතයකට ඇවිල්ලා ආයෙත් ගුණ පූර්ණය සිද්ධ කරනවා. ඊළඟට තමයි කවදාවත් විවරණ ගත්තු ජීවිතේ ඉඳලා මහා බෝධිසත්ත්වයෝ ස්ත්‍රියක් වෙන්නෙ නෑ. දැන් මහා ශ්‍රාවකයො, දැන් ආනන්ද ස්වාමීන් වහන්සේ සංසාරේ වැරදි කාම සේවනය කරලා විවරණ ලබලා තියෙද්දි පදුමුත්තර බුදුරජාණන් වහන්සේගෙන් විවරණ ලබලා තියෙද්දිනුත් අනාගතයේ අග්‍ර උපස්ථායක වෙන බවට, එහෙම තියෙද්දිනුත් සසරේ ඉඳලා වැරදි කාම සේවනය සිද්ධ වෙලා කාන්තාවක් වෙලා උපදිනවා. ඔය මහානාරදකස්සප ජාතකයේ මට මතක හැටියට මේ විස්තරය තියෙන්නෙ. එතකොට කාන්තාවක් වෙලා උපදිනවා. නමුත් මහා බෝධිසත්ත්වයෝ නම් කිසිම විදියකින් ස්ත්‍රියක් වෙලා උපදින් නෑ. ඊළඟට නපුංසකයෙක් වෙලා කවදාවත් උපදින්නෑ. නපුංසක ජීවිතයක්. ඊළඟට උභතෝව්‍යංගික ජීවිතයක් උපදින් නෑ. එතකොට විකෘති කාමාශාවන් ඇතිව උපදින්නෙ නෑ. එතකොට අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් මහාබෝධි සත්ත්වයන්ට විකෘති කාමාශා, අසම්මත කාමාශා ඇතිවෙලා නෑ. එතකොට බලන්න කොයිතරම් ඒ උත්තම ජීවිතයක්ද කියලා. එතකොට ඔය විදියට බුදු කෙනෙක්ගේ ජීවිතේ, මහා බෝධිසත්ත්වයන්ගේ ජීවිතේ පිරිපුන් වෙවී ගුණධර්ම වලින් පිරි පිරී එනවා. පින්වතුනි අපි ගත්තොත් කාන්දමක් ගත්තොත් එහෙම ඒ කාන්දමකට යකඩ කෑලි, ඊළඟට ඔය කාන්දමකට ඇදගන්න දේවල් ඇදෙනවා. කාන්දමට ඇදගන්නැති දේවල් අතහැරෙනවා. ඒ වාගේ විවරණ ලැබුවට පස්සෙ ඒ උතුම් සම්මා සම්බුද්ධත්වය පිණිස අවශ්‍ය කරන පුණ්‍ය ධර්මයෝම එකතු වෙවී යනවා, ඒ වරදින දේවල් අවශේෂ දේවල් විපාක දිදී ඉවර වෙවී ඉවර වෙවී යනවා. එතකොට යම්දවසක, වජිරාසනයේ ජයසිරිමහාබෝධීන් වහන්සේගේ සෙවනේ ලොව්තුරා සම්මා සම්බුදු බවට පත්වෙනවා ද, ඒ වෙනකොට මේ ලෝකෙ යම්තාක් සසරේ සැරිසරද්දි පාපකර්ම තිබුනා නම් ඒ සියලුම පාපකර්ම, සියලුම අකුසල් කර්ම ඔක්කොම ගෙවුනා වජිරාසනයේ මුල. ඒ වගේම සංසාරේ යම්තාක් පින් තිබ්බා නම් යම්තාක් කුසල් තිබ්බා නම්, ඒ සියලුම පින් කුසල් විපාක දුන්නා වජිරාසනය මුල. බුද්ධගයාවේ, දඹදිව වජිරාසන ගයාවේ ඒ උතුම් වජිරාසනය සියලූම පව් ගෙවපු, සියලූම පින් උපද්දවපු උත්තරීතර මහානුභාවසම්පන්න අකම්පිත ස්ථානයක්. ඉතින් ඒ නිසා පින්වතුනි හොඳට කල්පනා කරන්න ඕන බුදුරජාණන් වහන්සේ ආපු ගමන් මාර්ගය කියන එක. ඒ නිසා තමයි එන අවශේෂ ගමන් මාර්ගයේදී උතුම්

බුද්ධත්වයට ඕන පින් එකතු වෙවී එකතු වෙවී කුසල් එකතු වෙවී එකතු වෙවී අවශේෂ ඒවා අතහැරී අතහැරී යන්නා වගේ මහා බෝධිසත්ත්වයන්ගේ පිනම කුසල්ම එකතු වෙවී එනවා, අවශේෂ දේවල් විපාක දිදී එනවා. ඒ නිසා තමයි තිරිසන් ලෝකෙට වැටුනෙ. අනිත් එක තමයි අපරාපරියවේදනීය කර්ම තියෙනවා. ඒ අපරාපරිය කියන්නෙ කවදාහරි සසරේ විපාක දෙනවා. එතකොට මහා බෝධිසත්ත්වයන්ට දීපංකර පාද මූලයේ දී විවරණ ගන්න කලින් කරපු සංසාරේ කර්ම තියෙනවා. ඒවා අනුව තිරිසන් ලෝකෙකට යන්නෙ. එහෙමයි තිරිසන් ලෝකෙකට යන්නෙ. අද කාලේ බුදුවෙනවා කියලා ප්‍රාර්ථනා කරන අයත් එක්ක කතාකරනකොට අපිට හම්බෙලා තියෙනවා ඒ අය කියනවා, බෝධිසත්ත්වයෝ වුනත් හතරඅපායේ වැටුනානෙ. ඒ නිසා අපි අතින් පින් වගේම පව්ත් කෙරෙන්න ඕන. දැන් මේ බුදුබව පතන එක්කෙනෙක් ඔය මට කියපු එකක්. පිනුත් කෙරෙන්න ඕන, පව්ත් කෙරෙන්න ඕන කියලා. හේතුව මොකද තිරිසන් ලෝකෙ නැත්නම් යන්නැතිව ඉඳියි කියලා. එතකොට බලන්න බුද්ධත්වයක් පතනවා, මිත්‍යාදෘෂ්ටියක් තුළ ඉඳලා. ඉතින් ඒ නිසා මේ කරුණු කාරණා හොඳට බුද්ධ චරිතයේ අපිට ඇත්තටම මේ වාගේ වැඩසටහනකින් සර්ව සම්පූර්ණව මේවා විස්තර කරන්න බෑ පින්වතුනි. දැන් අපි ගත්තොත් එහෙම ඔබට ගිය වැඩසටහනේදි අපි විස්තර කලානෙ, සූවිසි විවරණ ගන්නවා. ඒක ත්‍රිපිටකයේ තියෙන්නෙ ලොකු පොතක්. නමුත් අපි එක වැඩසටහනකින් සංක්ෂිප්ත කරලා කිව්වෙ. එතකොට එක බුදු කෙනෙක් ගැන විස්තරය පැය ගාණක් විස්තර කරන්න තියෙනවා. එතකොට ඒ විදියට ගත්තොත් එහෙම මේ මහා බෝධිසත්ත්වයෝ සසරේ ගමන් කරගෙන ආපු ගමන් මාවත අවුරුදු ගණන්, අපි මැරෙනකල්ම කියන්න තියෙයි විස්තර. නමුත් ඔබට මේ තේරුම් ගන්න බුදුගුණ අනන්තයි කියන එක, ඒ වගේම මහා බෝධිසත්ත්වයෝ සංසාරේ පිරූ ගුණධර්ම අනන්තයි කියන එක. ඉතින් ඊටපස්සෙ දැන් විස්තර කරගන්නේ, පින්වතුනි ඔන්න දැන් ඒ ගුණධර්ම පුරුදු කර කර එනකොට කාරණා දහයකට තමයි ගොනුවෙන්නෙ. කුමක්ද කාරණා දහය? ඒ තමයි පාරමී ධර්මයන්. කුමන වූ පාරමී ධර්මයන්ද? දස පාරමිතා. දාන, සීල, නෙක්ඛම්ම, ඊළඟට දානං සීලංච නෙක්ඛම්මං පඤ්ඤා විරියේන පඤ්චමං, ප්‍රඥාව, වීර්යය, ක්ෂාන්තිය, ඉවසීම, සත්‍යය, අධිෂ්ටානය, මෛත්‍රිය, උපෙක්ෂාව. ඔන්න ඔය කරුණු දහය පින්වතුනි පුරන්න ඕන කිසි කෙනෙකුට ළංවිය නොහැකි එතෙරටම. පාරමී කියන්නෙ එතෙරටම. දානය පුරනවා එතෙරටම, කිසි කෙනෙකුට ළංවෙන්න බෑ ඒ ගුණ ධර්මයත් එක්ක. ඒ විදියට

තමයි දස පාරමිතාවන්. ඊටපස්සෙ බාහිර සෑම දෙයක්ම කැප කරමින් කරනවා. ඊළඟට උපපාරමී කියලා කියන්නෙ තමන්ගේ ශරීර අංග, අඹුදරුවන්, ඒවා කැප කරමින් පාරමිතා පුරනවා. ඊළඟට පරමත්ථ පාරමී කියන්නෙ තමන්ගේ ජීවිතය අතහැරලා පුරනවා පාරමී ධර්මයන්. ඔන්න ඔය දස පාරමී, දස උපපාරමී, දස පරමත්ථ පාරමී කියන පාරමී ධර්මයන් සර්ව සම්පූර්ණ වෙන්නේ යම් යුගයකද, ආන්න ඒ යුගයේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළ වෙනවා. එතකොට ඒවා පුරනකොට පින්වතුනි, ඉස්සෙල්ලාම දාන පාරමිතාව පුරලා දැන් ඒක ඉවරයි, මං සීල පාරමිතාව පුරනවා, සීල පාරමිතාව පුරලා ඉවරයි මං ඊළඟට දැන් නෛෂ්කර්මය පුරනවා. එහෙම නෑ, පාරමිතා ධර්ම අපි කතා කරනකොට ඉස්සෙල්ලාම තියෙන්නෙ දාන පාරමී. නමුත් පින්වතුනි අවසානෙටත් පිරුවෙ දාන පාරමීනෙ. අපේ බෝධි සත්ත්වයන්ගේ අවසාන ජීවිතය වෙස්සන්තර ජාතකයනෙ. වෙස්සන්තර ජාතකය සම්පූර්ණම දාන පාරමිතාවනෙ. පින්වතුනි දාන පාරමිතාව මහා බෝධිසත්ත්වයෝ සංසාරේ පිරුවා අපිට සිතාගත නොහැකි තරම්. දැන් පාරමිතාවක් විදියට පුරද්දී උන්වහන්සේ නොදුන්නු දානයක් නෑ මේ සංසාරයේ. නොදුන්නු දානයක් නෑ, වේලාම ගෘහපතියා වෙලා ඉන්න කාලෙ මහා බෝධිසත්ත්වයෝ දන්දුන්න දන් ශාලාවම තියෙනවා යොදුන් දොළහක්. කිලෝමීටර් එකසිය විස්සක්. ගංගා නම් ගඟ අයිනෙ දුන්නෙ. ඊටපස්සෙ මුළු ජම්බුද්වීපයටම දන් දීලා තියෙනවා. ඊටපස්සෙ පින්වතුනි ඒ අවුරුදු හතක් දානෙ දීලා අවසානෙට කල්පනා කලා දානෙ වස්තු ඉවරවෙයිද දන්නෑ කියලා ඒ අසූහාරදාහක් රාජධානි වලින් තමන්ගේ ශිෂ්‍යයො හිටියෙ, ඒ වේලාම බ්‍රාහ්මණයා රත්තරන් පුරවපු රිදී පාත්තර අසූහාරදාහක් ගෙන්නුවා. රිදී පුරවපු රන් පාත්තර අසූහාරදාහක් ගෙන්නුවා. දන් දුන්නා. ඊළඟට සර්වාභරණයෙන් සරසපු ඇත්තු අසූහාරදාහක් ගෙන්නුවා. දන් දුන්නා. අසූහාරදාහක් ශ්‍රෙෂ්ට වෘෂභයො ගෙන්නුවා. දන් දුන්නා. අසූහාරදාහක් රාජ කන්‍යාවියො ගෙන්නුවා, දන් දුන්නා. ඒ නිසා දානය ඉස්සෙල්ලා පූරණය කරලා ඊළඟට සීලය පූරණය කරලා, ඊළඟට නෙක්ඛම්මය පූරණය කරනවා කියලා මේ පිළිවෙලට පාරමිතා පුරනවා කියලා එකක් නෑ. ඒ පාරමී පූරණය ඒ මුළු අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් පුරණ ගුණධර්ම ඔය දහයට තමයි ගොනු වෙන්නෙ. දැන් බලන්නකො මුලින්ම තියෙන්නෙ දාන පාරමිතාව. ඊටපස්සෙ වෙස්සන්තර ජාතකයේ අවසාන ජීවිතයේ සසරේ යද්දී, ඒත් දාන පාරමිතාව. ඉතින් ඒ නිසා අපි මේ කරුණු කාරණා තේරුම් ගන්න ඕන. ඉතින් දානය පූරණය කලා පරතෙරට යනකල්. කිසිවෙකුට ළංවිය

නොහැකි තරම්. පරතෙරටම දානය පාරමිතාවක් විදියට පූරණය කලා. පාරමිතා කියන්නෙ වස්තුව සම්පූර්ණයෙන්ම දන් දෙනවා. බාහිර ඕනම දෙයක් දන්දෙනවා. බලන්න වේලාම සූත්‍රයේ වේලාම බ්‍රාහ්මණයා දන්දෙනවා, වේලාම බ්‍රාහ්මණයා වෙලා ඉපදෙන්නෙ අපේ මහා බෝධිසත්ත්වයෝ. යොදුන් දොළහයි දන්හල. යොදුන් දොළහක් කියන්නෙ කිලෝමීටර් එකසිය විස්සක් දන්හල තියෙනවා. මුළු ජම්බුද්වීපයටම දන්දුන්නා. අවුරුදු හතක් ගිය තැන හිතුවා දාන වස්තු ඉවරවෙයි කියලා අසූහාරදාහක් රාජධානි වල ඉන්න තමන්ගේ ශිෂ්‍යයන්ට පණිවිඩයක් යැව්වා - මේ වේලාම බ්‍රාහ්මණයා ආචාර්යවරයෙක් - රත්තන් පුරවපු පාත්තරයක, රත්තරන් පාත්තරයට රිදී පුරවලා එවන්න. රිදී පාත්තරයට රත්තරන් පුරවලා එවන්න කියලා. එතකොට එක පාත්‍රයකට රිදී පුරවන්න කලින් රත්තරන් පාත්‍රය උස්සන්න පස්දෙනෙක් ඕන කියනවා. රත්තරන් පුරවන්න කලින් රිදී පාත්‍රය උස්සන්න පස්දෙනෙක් ඕන කියනවා. ඒවා පිරෙව්වට පස්සෙ කවර කතාද. ඒ රත්තරන් පුරවපු රිදී පාත්තර අසූහාරදාහක් දන්දීලා තියෙනවා. රිදී පුරවපු රත්තරන් පාත්තර අසූහාරදාහක් දන්දීලා තියෙනවා. ඇත්තු, සර්වාභරණයෙන් සැරසුණු ඇත්තු අසූහාරදාහක් දන්දීලා තියෙනවා. මේ එක ජීවිතේක. අශ්වයො අසූහාරදාහක් සර්වාභරණයෙන් සැරසුණ මංගල හස්තියො අසූහාරදාහක් දන්දීලා තියෙනවා. රාජ කන්‍යාවියො සර්වාභරණයෙන් සැරසිච්ච අසූහාරදාහක් දන්දීලා තියෙනවා. ඊළඟට කෑම බීම නොයෙක් වස්තු ගැන කවර කතා ද. මේ විදියට දන් දීපු ජිවිත, ඔය විදියටම දන්දීපු ජීවිත අසංඛෙය්‍යයි අප්‍රමාණයි. මේ එක කල්පයක දන් දීපු විදිය ඔය කියන්නෙ. අසංඛෙය්‍යයි අප්‍රමාණයි දානය පුරපු විදිය. ඔය වේලාම බ්‍රාහ්මණයා දන්සලට යනකොට ඔළු විතරයි කියනවා, එච්චරට කෝටි ගාණක් ජනතාවක්. කෙස් ටික විතරයි පේන්නෙ. ඉතින් මේ වේලාම බමුණා දවසක් පැන් කෙන්ඩිය අරගෙන හිතලා තියෙනවා මෙච්චර කෝටි ගණනාවක් ජනතාව අතරේ මං දානය දුන්නට පස්සෙ දානය මහත්ඵල මහානිසංස කරවන උතුම් ගුණ තියෙන කෙනෙක් ඉන්නවා නම් මේ පැන් කෙණ්ඩියෙන් පැන් පොළොවට වැටේවා කියලා වක්කරලා තියෙනවා. පැන් ටික කෙණ්ඩියෙන් වැටෙන්නෑ, ඒ කරලා ජම්බුද්වීපයේ එහෙම ගුණවතෙක් වත් ඉඳලා නෑ. ඊටපස්සෙ වේලාම බ්‍රාහ්මණයා අධිෂ්ඨාන කරලා තියෙනවා මට දන්දීමේ කැමැත්ත තියෙන බව සත්‍ය නම්, මං මෙතන දානය පිරිසිදු කරන කිසිකෙනෙක් නැති බව දැන දැන සිතේ අපැහැදීමක් නැතිව පැහැදීමෙන්ම දන්දෙන බව සත්‍යයි නම් මේ පැන් කෙණ්ඩියෙන් පැන් වැටේවා කියලා

වක්කරනකොට පැන් ටික වැටුනා. බලන්න ලෝකයේ මිනිස්සුන්ගේ චරිතෙ මොනවා වුනත් තමන්ගේ දාන සිතට පුංචිවත් හානියක් කරගත්තෙ නැති කෙනෙක්, මහා බෝධිසත්ත්වයෝ. සියල්ල නැතිවුනත් දන්දෙනවා. අර අසෙය සිටුතුමා බලන්න සිටුතුමනි දවස් හතක් කන්න නැතිව ඉඳලා දන්දෙනවානෙ. සියලු දාන වස්තු අතුරුදහන් කලා සක්‍රයා. තණකොළ කප කපා ඒකෙන් බඩු ගෙනල්ලා දන් දීලා, දවස් හතක් තමන්ට කන්න නැතිව. එහෙම දන්දීලා තියෙනවා. පසේ බුදුරජාණන් වහන්සේ නමක් තමන්ගේ ගෙදරට වඩිනකොට, මාරයා ඒ පසේබුදුරජාණන් වහන්සේගේ ජීවිතේට අනතුරු කරන්නත්, බෝධිසත්ත්වයන්ගේ දාන පාරමිතාව කඩාකප්පල් කරන්නත් බෝධිසත්ත්වයෝත් පසේබුදුරජාණන් වහන්සේත් අතර පොළොව දෙබෑ කරලා ගිනි අඟුරු වලක් මවලා තියෙනවා. ඊටපස්සෙ මේ උත්තමයන් වහන්සේට මං දානය දීම පිණිස මේ ගිනඅඟුරු වල මට බාධාවක් නොවේවා කියලා දානෙ පාත්‍රය අරන් ගිනිඅඟුරු වලේ අඩිය තියලා තියෙනවා. පොළොව දෙබෑ වෙලා තියෙන්නෙ, මහා විශාල ගිනිඅඟුරු වල. ගිනිඅඟුරු දෙබෑ කරගෙන නෙළුම් මලක් මතුවුනා, නෙළුම් මල උඩ ඉඳලා තමයි දානෙ දීලා තියෙන්නෙ. ඒ විදියට මහාබෝධි සත්ත්වයෝ දන් දීලා තියෙනවා. ඒ වාගේ දන් දුන්නු වාර අසංඛෙය්‍යයි. ඒවා දාන පාරමිතානේ. ඔය වාගේ දාන අපි දීලා තියෙනවාද. අපේ ශාස්තෘණ් වහන්සේ මේ ලෝකෙ කිසිම කෙනෙකුට නොදුන්නු කෙනෙක් නෑ, සියලුම දෙනාට දන්දීලා තියෙනවා සසරේ. කොහොම දාන පාරමිතාවක්ද. මේ මුලු ලෝක සත්ත්වයාම එකතු වෙලා බුදුරජාණන්වහන්සේ සිහි කරලා දානයක් දුන්නොත් එහෙම උන්වහන්සේ සංසාරේ දුන්නු දානත් එක්ක බලනකොට ඒක වැලි කැටයක් තරම්. එච්චර දන් දීලා තියෙනවා. ඒක දාන පාරමිතාව. අපි ඔය ජාතක කතාවලින් කියවන දන්දීමේ විස්තර එක කල්පයක් ඇතුලත වෙච්ච දේවල්. අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් තුළ කොයිතරම් නම් දාන දෙන්න ඇතිද. නොදුන්නු දෙයක් නෑ. සමහර එක ජීවිත වල ඉඳලා තියෙනවා, මේ ලෝකයේ යම් තියෙනවා නම් යම්කිසි වස්තුවක්, ඒ එක වස්තුවකින් සීය ගානෙ දන්දීලා. හැමදේකින්ම සීය ගාණෙ දන් දෙනවා. එහෙම දාන පාරමිතාව පුරලා තියෙනවා. ලොව්තුරා සම්බුද්ධත්වය පිණිස. සියලු දේවල් නැතිවෙද්දී දන් දීලා තියෙනවා. ඊළඟට දාන උප පාරමී තමන්ගේ ශරීරයේ කොටස් අඹුදරුවෝ දන්දීලා තියෙනවා. අඹුදරුවෝ දන් දුන්නු අවස්ථා, දැන් යශෝධරාවගේ ජීවිත කතාව කියද්දී යශෝධරා උත්තමාවිය පිරිනිවන් පානකොට කියනවා මට දාව ලැබුනු දරුවො ඔබවහන්සේ දන්දීලා තියෙනවා අසංඛෙය්‍ය වාරයක්. ඒ

කියන්නෙ මහා බෝධිසත්ත්වයෝ දරුවොම අසංඛෙය්‍ය වාරයක් දන්දීලානෙ. යශෝධරාවට දිවැසින් කල්ප අසංඛෙය්‍යක් බලන්න පුලුවන්. ඊටපස්සෙ කියනවා ස්වාමීනී - මේ ජේන ටික කියන්නෙ - ඊළඟට ඔබවහන්සේ මාවම දන්දීලා තියෙනවා කියනවා ජීවිත අසංඛෙය්‍යයක්. මාව දන්දීලා ඒ මාව දණ්ඩට ගත්තු යක්ෂයෝ මාව චර චර ගාලා කද්දි ඔබවහන්සේ සම්බුද්ධත්වයම අධිෂ්ඨාන කරගෙන හිත දැඩි කරගෙන හිටපු ජීවිත අසංඛෙය්‍යයි කියනවා. මම ඒ යක්ෂයනට බිලිවුනා ඔබට සම්බුදු බව ලැබේවා කියලා, එහෙම ජීවිත අසංඛෙය්‍යක් කියනවා. යශෝධරාව කියනවා ස්වාමීනී මට හිතෙනවා, ඒ දරුවන් දන්දෙද්දී බැඳපු ඒ රැහැන් පටවල් එකතු කළොත් පෘථිවියේ ඉඳලා අකනිට්ඨා බ්‍රහ්මලෝකෙ දක්වා රැහැන් පටවල් දාන්න පුලුවන් කියලා. මේ මුලු පෘථිවියේම ඉන්න මිනිස්සු බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් මහණ වුනොත් එහෙම උන්වහන්සේ දන් දුන්නු දරුවොත් එක්ක බලනකොට වැලි කැටයක් තරම් මේ මුලු පෘථිවියේම සත්ත්වයා මහණ වුනත්. එච්චර දන්දීලා තියෙනවා. කොහොමද පින්වතුනි දරුවො දන්දෙන්නේ. මේ දරුවෙක් මහණ වෙනකොටත් අම්මලා බඩ පපුව පිච්චීගෙන අඬනවානෙ. දරුවෙක් මහණ වෙන්න යවලත් අම්මලා ගෙවල් වල ඉඳලා පපුව පිච්චී පිච්චී හූල්ල හූල්ලා ඉන්නවානෙ. මහා බෝධිසත්ත්වයෝ දන් දුන්නා කියලා යමක් ඇද්ද ඒකාන්තයෙන් ආශ්චර්‍යයයි අද්භූතයි. ඒ නිසා ඒ සා ආශ්චර්‍ය විදියට මහා බෝධිසත්ත්වයන් වහන්සේ දරුවන් දන්දීලා තියෙනවා. තමන්ගේ බිරිඳ දන්දීලා තියෙනවා. එතකොට බිරිඳ දන්දුන්නේ බිරිඳ අප්‍රිය අමනාප වෙලා නෙවෙයි. යශෝධරා උත්තමාවිය සංසාරයේ මහා බෝධිසත්ත්වයන්ගේ හිත රිද්දපු නැති කෙනෙක්. දුක නොදුන්නු කෙනෙක්. ඊළඟට අම්මා කෙනෙක් වාගේ බිරිඳක් වුනු කෙනෙක්. ඊළඟට සහෝදරිය වගේ බිරිඳක් වුනු කෙනෙක්. ඒ වගේම නැගණිය වගේ බිරිඳක් වුනු කෙනෙක්. ඒ වගේම දාසියක් වගේ උපස්ථාන කරපු කෙනෙක්. එතකොට ඒසා බිරිඳ දන්දෙනවා කියලා යමක් ඇද්ද ඒක ආශ්චර්‍යයි, අද්භූතයි. ඊළඟට පින්වතුනි ඇත්තු වෙලා ඉඳලා දීපු දාන තමන්ගේ දළ දෙක කපලා දන්දුන්නානෙ, සද්දන්ත ජාතකයේ. ඒ වගේම එක්තරා ජීවිතයකදී, ඒ දේවදත්ත මේ කැලේ ගිය මනුස්සයෙක් වෙලා අතරමං වෙලා ඉදිද්දි ඒ මහා සුදු පාට මහා කුලක්, පර්වතයක් වගේ මහා හස්තිරාජයා, ඒ මහා හස්තිරාජයා ඔහුට පාර පෙන්නුවා සොඳුරු දළ තිබෙන හස්ති රාජයා. පාර වැරදිලා ඉදිද්දින්. ඊටපස්සෙ ඒ මනුස්සයා ගමට ඇවිල්ලා ජීවත් වෙන්න ක්‍රමයක් නැතිව, ජීවහත්ත ජීවත් වෙලා ඉන්න ඇත්තුන්ගේ දළ වලින් කැටයම් කරන වීදියක්

තියෙනවා. ඒ විදීයට ගිහිල්ලා ඒකෙ මිල ගණන් අහලා ආපහු කැලේට ගිහිල්ලා අර හස්තිරාජයා ගුණවත් කියලා දැනගෙන අනේ මෙන්න මෙහෙම ඇත්දළ ඕන කියලා කිව්වා. ඊටපස්සෙ එහෙනම් අර ඇතාගෙ ජීවය වගේ තමයි දළ දෙක. ඊටපස්සෙ එහෙනම් උඹට ගෙනියන්න පුලුවන් ප්‍රමාණයට කපා ගනින් දළය කියලා කිව්වා. එතකොට දළ දෙකේ අගින් කපා ගත්තා, ඒ කපාගෙනත් ඇඟ පාත් වෙන තරමට බරට ගෙනල්ලා තියෙන්නෙ. ඒ තරමට ඇත් දළය බරයි. විශාල ඇත් දළ. කොට කෑලි දෙකක් ගෙනාවා. දැන් අර ඇත්දළේ උල් දෙක නැතිව ඇතා කැලේ ඉන්නවා. ආයෙ කාලයක් ගියාට පස්සෙ පින්වතුනි ආයෙ ගියා අර අසත්පුරුෂයා. ආයෙ දළ දෙක කැපුවා. ඊටපස්සෙ ආයෙ ගියා. ඔයවිදියට අර මහා දිග රියන් නවයක් තරම් දිග ඇත්දළ කෑල්ලෙන් කෑල්ලට ගිහිල්ලා කපාගෙන ආවා. ඇත් දළ දෙක. අවසානෙට මොකද කලේ, මේ හම දෙපැත්තෙන් කපලා ඇතා වැටිලා ඉද්දි හම දෙපැත්තෙන් කපලා කකුලෙන් විලුඹෙන් ඇන ඇන ඇත්දළේ මුල හොය හොයා කපලා තියෙනවා ඒ අසත්පුරුෂයා. දැන් අපිත් ඒවා කියද්දි අසත්පුරුෂයා කියලා කියනවා. නමුත් පින්වතුනි ඒ හස්තිරාජයාට කවදාවත් මෙහෙමත් අසත්පුරුෂයෙක් කියලා හිතිලා නෑ. දන්දෙන එකමයි හිතිලා තියෙන්නෙ. දන්දෙන එකමයි හිතිලා තියෙන්නෙ. මෙහෙමත් දන් දුන්නානෙ. ආශ්චර්‍යයයි, අද්භූතයි. තිරිසන් සතෙක් වෙලා ඉඳලා. ඉතින් සිවි රජ්ජුරුවො වෙලා ඉඳලා හිතනවානෙ මගේ හදවත කවුද ඉල්ලන්නෙ, ඇස් දෙක කවුද ඉල්ලන්නෙ. එතකොටම සක්‍ර දේවේන්ද්‍රයා වෙස් මාරු කරගෙන ඇවිල්ලා මිනිස්සු මැද ඉඳලා මට ඇස් දෙක ඕන කියලා කියනවානෙ. මේ ඇස් දෙකේ සිවිදෙක, ඊටපස්සෙ කියනවා එහෙනම් එන්න කියනවා. පොඩි දුරක් ගියෙ. මීටර් සීයක් වගේ මාළිගාවෙන් එළියට යනකොට ආවෙ ඒ මනුස්සයා. ඒ ගිහිල්ලා ඇස් දෙක දන් දෙන්න මාළිගාවට යනකොට අර ගිය පුංචි දුර යොදුනක් වගේ දැනුනා කියනවා, එච්චර දන් දෙන්න ආසාව. ඊටපස්සෙ පින්වතුනි ඒ සිවි රජ්ජුරුවො ඇවිල්ලා සීව කියන වෛද්‍යාචාරීන්ට කියනවා මගේ ඇස් දෙක ගලවලා දන් දෙන්න, එක ඇහැයි ඉල්ලුවෙ. එක ඇහැක් දෙන්න කිව්වා අර අන්ධයාට. ඊටපස්සෙ එපා එපා ඕනම දෙයක් දෙන්න. ඊටපස්සෙ කියනවා නැහැ ඉල්ලන දේ දෙන්න ඕන කියලා. සියලු දෙනා විරුද්ධ වෙද්දිත් ඇස් දන් දෙනවා. ඊටපස්සෙ සීවක වෛද්‍යාචාරීන් වහන්සේ අඩුවක් දාන්නැතිව බෙහෙතක් ගාන්නෙ, ඒ බෙහෙතට ඇහැ කැරකෙනවා ඇතුලෙ. කිව්වා රජතුමාට මට පුලුවන් ඔය ඇහැ තිබ්බ විදියට ආයෙ සුව කරන්න, ඔය දන් දෙන අදහස නැති කරගන්න කියලා. කිව්වා මගේ මේ ඇතුලේ තියෙන

වේදනාවට වැඩිය මට වේදනාව උඹ කියන වචනය, ඇහැ ගලවපන් කිව්වා. ඊටපස්සෙ දෙවෙනි බෙහෙත දැම්මා, එතකොට ඇහැ ඉලිප්පෙන්න ගත්තා. කිව්වා ස්වාමීනී, තිබ්බ විදියට ඇහැ හදන්න පුලුවන්, ඔය සිතිවිල්ල නැති කරගන්න. කියනවා මට අමාරු මේක නෙවෙයි, උඹ කියන වචනය. තුන්වෙනි වතාවට ඇහැට බෙහෙත් දානකොට ඇහැ ඉලිප්පිලා මෙහෙම එල්ලුනා. දැන් මෙහෙම ඇහැ මෙතන තියෙනවා. මේ ඇහෙන් මේ ඇහේ එල්ලෙන නහරවැල් ටික වැගිරෙන ලේ ඔක්කොම පේනවා. ඊටපස්සෙ කිව්වා රජතුමනි මං ගාව බෙහෙත් තියෙනවා ආපහු ඇහැ දාලා තිබ්බ විදියට හදන්න පුලුවන්. සීවක මට අමාරු මේ ඇහැ එල්ලෙන වේදනාව නෙවෙයි, උඹ කියන එක. මේ ඇහැ ඉක්මණට දන්දීපන් කිව්වා. ඊටපස්සෙ මෙහෙම මේ ඇහෙන් පෙනෙද්දි මේ ඇහේ නහරවැල් කපනවා. නහරවැල් කපලා අතට දුන්නා රජතුමාගෙ. රජතුමාට ගින්දරක් ගත්තා වාගේ, ගින්දරක් ගත්තොත් ඉක්මණට අතහරින්න එපෑ, ඒ වගේ ගත්ත ගමන් දන් දෙන අදහස තිබ්බෙ. ඒ ගමන් අර දුගියාට දන්දුන්නා. මේක මං උඹට දන්දෙනවා. සර්වඥතා ඥාණය වේවා, මගේ දෑස් ඉදිරියේ කිසි කෙනෙකුට දුකක් නොවේවා කියලා. ඒකයි මහා කාරුණිකයාණන් වහන්සේගේ නෙත් ඉදිරියේ මිනිස්සු පොළොව පළාගෙන යන්නෑ. මහා කාරුණිකයාණන් වහන්සේගේ නෙත් ඉදිරියේ මිනිස්සු කෝටි ප්‍රකෝටි ගාණකගේ දුක් සැනසිලා යනවා. එහෙම දන්දුන්නා අපගේ ශාස්තෘන් වහන්සේ. ඊටපස්සෙ පින්වතුනි බුදුරජාණන් වහන්සේ ඒ විදියට දානය පුරුදු කලා. ඊළඟට සිවි රජ්ජුරුවො අර ඇහැ මෙහෙම ශුද්ධ කරලා අර දුගියාගේ ඒ ඇහැට බද්ධ කරනකොට එහෙම්මම බද්ධ වුනා. ඇයි සක්දෙවිඳු ඇවිල්ලා තියෙන්නෙ. ඊටපස්සෙ එයාට ඇහැ පේනවා. ඊටපස්සෙ තමන්ගේ ඇහෙන් එයා ලෝකෙ බලනහැටි මේ ඇහෙන් තමන්ට පෙනුනා. ඊටපස්සෙ මේ ඇහැ ගැලෙව්වා, කිව්වා මට ඇස් දෙකම දන්දෙන්න ඕන. මේකත් ගලවන්න. ඒකෙත් අර විදියට කිව්වා රජතුමනි මේක දෙන්න එපා කියලා. නෑ මට දෙන්නම ඕන. ඊටපස්සෙ ඇහැ ගලවලා ඇස් දෙකම ගලවලා දන් දුන්නා. අන්ධයෙක් වුනා රජතුමා. එහෙම දන්දීලා තියෙනවා තමන්ගේ ශරීර අවයව. හිස ගලවලා, අත් ගලවලා, තමන්ගේ ශරීරයේ මස් කෑලි, දැන් අද කාලෙ ගත්තොත් වකුගඩු, ඒ කාලෙ මොනවාහරි කෑලි, තවත් කෙනෙක් ශරීරයේ අවයව ඉල්ලගෙන එනවා නම් ඒ ඔක්කොම ගලව ගලවා දන් දුන්නා. ඒ නිසයි ඒ විදියට ඇස් දන් දුන්නු ජීවිත අසංඛෙය්‍යයි අප්‍රමාණයි. අහසේ තරු අඩුයි කිව්වොත් ඒකහරි. අහසේ තරු ගණන් කරන්න පුලුවන් වෙයි. නමුත් මහා බෝධිසත්ත්වයෝ ලොව්තුරා

සම්බුද්ධත්වය පතාගෙන දුන්නු ඇස් ගාණ ගණන් කරන්න බෑ. ඒ නිසයි පින්වතුනි ඒ වාගේ උත්තමයෙක් නෙත් පුරා දැකලා සාදු කියලා ඒ ශාස්තෘන් වහන්සේ සරණ යන්න කියන්නෙ. ඒ බුදුරජාණන් වහන්සේගේ එවැනි පින් බලයෙන් ලැබූ නේත්‍ර බැල්මෙන් පිදුම් ලැබූ ජයශ්‍රී මහා බෝධීන් වහන්සේට උපස්ථාන කරලා පින් පුරාගන්න කියන්නෙ ඒකයි. ඒ නිසා පින්වතුනි මේ කරුණු කාරණා තේරුම් ගන්න ඕන. මේක ලේසි දෙයක් නෙවෙයි මේ ලොව්තුරා සම්බුද්ධත්වය කියන්නෙ. ඊටපස්සෙ ඔය දාන උපපාරමී. පරමත්ථ පාරමී කියලා කියන්නෙ ඒ මහා බෝධිසත්ත්වයෝ දන් දෙනවා, තමන්ගේ ජීවිතේම දන් දෙනවා. ඇයි එක බණ පදයක් අහන්න ආසාවට දහම්සොඬ රජ්ජුරුවෝ යකාගෙ කටට පැන්නනෙ. ඒ කියන්නෙ ඒ දානය තමන්ගේ ශරීර දානය දෙනවා ධර්මයට තියෙන ආශාවට. එයද පසෙක තැබේවා, සස ජාතකයේදී පින්වතුනි බලන්න ඒ සත්තු ඉන්නවා, මස්කාවෙක් ඉන්නවා, ඊළඟට සිවලෙක් ඉන්නවා, වඳුරෙක් ඉන්නවා, හාවා ඉන්නවා. මේ හතරදෙනා කතා වෙලා සිල් රකිමු කියලා එදා ඒ දවස ඇතුලත අකුසල් කරන්නෑ. සිල් රකිමු කියන අදහසින් ඉන්නවා. ඊටපස්සෙ යමක් මොකක්ද තියෙන්නෙ, ඉල්ලන්න කෙනෙක් ආවොත් දන්දෙනවා කියන අදහසින් ඉන්නවා. එතකොට ඔන්න සීලය රැකගෙන දන්දෙනවා කියන අදහසින් ඉන්නකොට සක්දෙව්දුට තිරිසන් ලෝකයේ අය පවා මේ සිල් රකිනවා කියන සිතිවිල්ලට සක්දෙව්දුගේ ආසනය උණුවුනා. සක්දෙව්දු ආවා. එතකොට ඒ වෙනකොට මස්කාවා වැව් ඉවුරේ තිබුනු මාලු ටිකක් ගෙනල්ලා, හිවලා තවත් කොහෙන්ද කරවල වගයක් ගෙනල්ලා. ඊළඟට වඳුරා අඹ වගයක් ගෙනල්ලා ඒවා තියාගෙන ඉන්නවා කාලය එනකල් තමන්ට ආහාර ගන්න, ඒ අතරතුරේ කෙනෙක් ආවොත් දන්දෙනවා කියලා. ඒ විදියට මස්කාවා ළඟට ගියා, එයා එයාගේ දේවල් දන් දුන්නා. හිවලා එයාගේ දේවල් දන් දුන්නා. ඊටපස්සෙ වඳුරා අඹ ගෙනාපු ඒවා දන් දුන්නා. ඊටපස්සෙ කිව්වා හරි මං වෙලාවට එන්නම් කියලා තියලා අර දුගියෙක් විදියට වෙස් අරගෙන ආපු සක්‍රයා සාවා ළඟට යනවා. සාවා ළඟට යනකොට හාවා හිතුවෙ කොහෙන් හරි වෙලාවට ගිහිල්ලා තණකොළ ටිකක් උඳුපියළිය මොනවාහරි තියෙන දෙයක් කාලා එන්නම් කියලා. එතකොට අර දුගියා ඇවිල්ලා කියනවා මට හරි බඩගිනියි, මොනවාහරි කන්න දෙයක් දීපන්. ඊටපස්සෙ හාවා හිතනවා අනේ මට ලාභයක්. මට දන්දෙන්න කෙනෙක් ලැබුනා. ඊටපස්සෙ කියනවා මං ගාව උඳු මුංඇට ධාන්‍ය මොකුත් නෑ, ආහාර මොකුත් නෑ, නමුත් ඔබට ප්‍රණීත ආහාරයක් මට දෙන්න පුලුවන්. ඒ නිසා

බ්‍රාහ්මණයා ගින්දරක් ඇති කරන්න මෙතන දර ගෙනල්ලා. ඊටපස්සෙ දර ටික ගෙනල්ලා ගින්දරක් ඇති කලා. ඒ ගින්දරක් ඇති කලාට පස්සෙ එහෙනම් මං මේකට පනිනවා, මගේ ශරීරයේ මාංශය ඔබ භුක්ති විඳින්න, ඒක මට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතියි. ඔබ අරන් දාන්න එපා, ඔබත් සිල් රකින කෙනෙක්, ඔබට ප්‍රාණඝාතය වෙයි කිව්වා. ඒ නිසා මංම මගේ ජීවිතය දන් දෙනවා කියලා ඒ හාවා දුවගෙන ඇවිල්ලා ගින්දරට පැන්නා. සක්දෙවිඳු ගින්දර සිසිල් කලා. ඊටපස්සෙ හාවා අහනවා හරි පුදුමයි. මං මේ ගින්දරට පැන්නා මේ ගින්දර සිසිල් වෙලා. මේක මොකක්ද මේ සිද්ධිය කියලා අහනවා. ඊටපස්සෙ කියනවා එම්බා සසමනිතුමනි, මම සක්‍රයා කියලා කියනවා. ඔබගේ දානෙ චේතනාව බලන්නයි මං මේ ආවෙ කියලා කියනවා. ඊටපස්සෙ ඒ සාවා අතට අරන් හඳේ ඇන්දා කියනවා හාවා, තුන්ලෝකෙටම ප්‍රකට වෙන්න, තිරිසන් සතෙක් වෙලා ඉඳලා පවා ජීවිතේ දන් දීලා තියෙනවා. ඒ වාගේ දන් දුන්නු ජීවිත අසංඛෙය්‍යයි අප්‍රමාණයි බුදුරජාණන් වහන්සේ දාන පාරමිතාව පුරද්දි. එහෙම දන් දුන්නු ජීවිත අසංඛෙය්‍යයි, අප්‍රමාණයි. ඊළඟට සත්තුන් සතා සීපාවන්ට ආහාර නැතිවෙලා, දැන් එක තැනක තියෙනවා අර කොටියෙක් ළිඳකට වැටිලා එහෙම්මම පැටව් දාලා ආහාර නැතිව. එහෙම්මම තමන් පැනලා අර කොටියාට බිලිවෙන්න. සසරේ එහෙම දන්දීලා තියෙනවා ශරීරය. එහෙමත් දාන පාරමිතා. ජීවිතේ දෙවැනි තැනට දාලා. ඒවා තමයි දාන පාරමත්ථ පාරමී කියන්නෙ, ආයෙ ඒවට නම් ලංවෙන්න බෑ කිසිකෙනෙකුට. මෙහෙම දන් දීමකට. වෙස්සන්තර ජාතකය කියන්නෙ වචනෙකින් දෙකකින් කියා නිම කල හැකි ජාතක කතාවක් නෙවෙයි. සර්ව සම්පූර්ණ වස්තුව දන් දිදී දිදී ඉපදුනේම අම්මා මොනවද දන්දෙන්න තියෙන්නේ කියලා. ඒ අතට චූටි බබාගෙ අතට කහවණු ටික දුන්නට පස්සෙ වෙස්සන්තර කුමාරයාගෙ ඒ කිරි මව්වරුන්ට ඔක්කොම බෙදුවා. ඊටපස්සෙ ඉපදිලා අවුරුදු අටෙන් ඇඳේ ඉඳලා කල්පනා කරනවා මං මොනවද අන් අයට දන් දෙන්න ඕන කියලා. ඊටපස්සෙ මං හැමදෙයක්ම දන් දෙනවා. කවුරුහරි මගේ ජීවිතේ ඉල්ලනවානම් ඒකත් දන් දෙනවා, මගේ හදවත ඉල්ලනවානම් දන් දෙනවා කියලා. මගේ හදවත පවා මම දන් දෙනවා කියලා අවුරුදු අටෙන් කල්පනා කරනකොට මහපොළොව කම්පා වෙන්න ගත්තා. ඊටපස්සෙ ඇලි ඇතා දන්දෙනකොට මහපොළොව කම්පා වෙන්න ගත්තා. ඊටපස්සෙ ඇලි ඇතා දන්දුන්නා කියලා මුලු නගරයේම කෝප වෙලා, වෙස්සන්තර රජ්ජුරුවො රටින් නෙරපන්න කියලා කිව්වට පස්සෙ, අද කාලෙ එහෙම නම් තොපි අපෙන්ම කාලා අපිටම මෙහෙම නේද කියනවා. නමුත්

රජතුමා ඊළඟට ඉල්ලුවෙ මට යන්න කලින් හැමදේකින්ම සීය ගාණෙ දානයක් දෙන්න අවස්ථාවක් හදලා දෙන්න කියලා. හැම දේකින්ම සීය ගාණෙ දානයක් දීලා තමයි පිටත්වුනේ. ඒ පිටත් වෙලා ඒ වෙස්සන්තර රජ්ජුරුවෝ රථයෙන් යද්දි මන්ත්‍රී දේවිය අනිත් පැත්තට හරවලා ඉන්දවන්නෙ. මන්ත්‍රී පිටිපස්සට හරවලා ඉන්දවනවා අර පාරෙන් දන් ඉල්ලගෙන කවුරුහරි එයි කියලා. කොහොමද දානෙ චේතනාව. ඇත්තටම බමුණො ආවා. එතකොට ඒ දාන අනුමෝදන් වීම ගැන කවර කතාද යශෝධරාවගේ, ඒ ඉක්මණට කියනවා ස්වාමීනී, ස්වාමීනී බ්‍රාහ්මණයො එනවා පිටිපස්සෙන්. මොනවාහරි ඉල්ලගෙන වෙන්න ඇති, අපි නවතිමු. ඊටපස්සෙ කරත්තෙ ඉල්ලුවා. අශ්වයො ඉල්ලුවා, අශ්වයො ටික දන් දුන්නා. ආයෙත් කියනවා මන්ත්‍රී කවුරුහරි එයි, බලාගෙන. ඊටපස්සෙ මුවෝ තමයි දැන් කරත්තෙ අදින්නෙ සතරවරම් දෙවියො ඇවිල්ලා. කරත්තෙ ඉල්ලගත්තා, කරත්තෙත් දන් දුන්නා. එතකොට අද කාලෙ එහෙමනම්, මුන්ට මෙච්චර දීලත් මදිද, මේ තියෙන එකත් ගන්න හදන්නෙ කියලා මනුස්සයෙකුට හිතෙන්න අවස්ථාවක් තියෙනවානෙ. සසරේ පින්වතුනි බෝධිසත්ත්වයෝ පාරමී පූරණය කරද්දි යක්කු වෙස්වලාගෙන ඇවිල්ලා දරුවෝ දනට ඉල්ලලා, දරුවෝ කද්දි යකා වෙලා, හිතිලා නෑ කියනවානෙ මූ මාව වංචා කලානෙ, යකෙක්නෙ මේ ඇවිල්ලා තියෙන්නෙ කියලා වංචා කලානෙ කියලා හිතිලා නෑනෙ කියනවා. දුන්නු දානය හිතලා සර්වඥතා ඥාණය ගැන හිතුවා කියනවා. එහෙම දානපාරමිතාව පුරන්නෙ. ඊටපස්සෙ පින්වතුනි ඊළඟට ඒ වෙස්සන්තර රජ්ජුරුවො ඒ සියල්ල දන්දිදී සියල්ල දන් දිදී දරුවන් උකුලට අරගෙන වංකගිරියට ගියා. ඒ වංකගිරියට ගිහිල්ලා ඒ වංකගිරියේ තපස් රකිද්දි තමයි ජූජක බමුණා එන්නෙ. මන්ත්‍රී දේවිය සිහිනෙන් දැක්ක ගමන්ම වෙස්සන්තර රජ්ජුරුවෝ දන්නවා අද කවුරුහරි එනවා ඇස් දෙක වන් දරුවෝ ඉල්ලගෙන. ඊටපස්සෙ ඇස් දෙක වන් දරුවො ඉල්ලගෙන එද්දි අද මම ඒක කියන්න තිබ්බනේ මන්ත්‍රී දේවියට මට ඇස් දෙක වන් දරුවො දන් දෙනවා කියලා. ඊටපස්සෙ ඒක සමයප්‍රයෝගයකින් වැහුවා. ආ ඕවා හිතන්න එපා කියලා වැහුවා. ඊටපස්සෙ වහලා දැන් ඔන්න බ්‍රාහ්මණයා ආවට පස්සෙ දනට ඉල්ලුවට පස්සෙ තමන්ගේ දරුවො දෙන්නා දන් දුන්නා, අර චූටි සොඳුරු දරු පැටව් දෙන්නා. වනයේ ඉන්න සියුමැලි අත්පා ඇති, සොඳුරු සිනහා ඇති කවදාවත් ජීවිතේට දෙපාරක් කතා කරලා නෑ, එක පාරක් කතා කරපු ගමන් ළඟට එනවා. ඉතින් ඒ වාගේ දරුවෝ දෙන්නා දන් දුන්නා. දන් දීලා ආපහු සැරයක් දරුවො දුවගෙන ඇවිල්ලා තාත්තෙ අපිව දෙන්න එපා ඒ යකෙක් කියලා කියද්දි

අඬන්නැතිව කතා නොකර, ඇස්වලින් වැටිලා තියෙන්නෙ පින්වතුනි උණු ලේ. එහෙම දරුවො දන්දුන්නා. දරුවො දන්දීලා ඒ අසාමාන්‍ය දානය හිතනකොට මේ මිහිමඬල කම්පා වෙනවා. ඒ වෙස්සන්තර ජාතකයේ අට වතාවක් දානය දීම පොළොව කම්පා වෙලා තියෙනවා. මේ තුන් ලෝක ධාතුවේම දානයක් මුල් කරගෙන පොළොව කම්පා වෙලා තියෙන්නෙ අපේ මහා බෝධිසත්ත්වයෝ දන්දෙද්දි එක ජීවිතේම අට වතාවක් පොළොව කම්පා වුනා. මේ පොළොව හොල්ල හොල්ලා දන් දුන්නෙ. අද කාලයක් අපි දන් දෙනකොට මිනිස්සු සාදු කියනවා. බුදුරජාණන් වහන්සේ, මහා බෝධිසත්ත්වයෝ වෙස්සන්තර රජ්ජුරුවෝ කාත් කවුරුත් නැති මහා වනයේ දන් දෙද්දී මිහිමඬල සාදුකාර දුන්නා ගිගුම් දීලා. අකනිටා බ්‍රහ්ම ලෝකෙ දක්වා සාදුකාරය පැතිරිලා ගියා. එහෙම දන් දීපු අය සම්මා සම්බුද්ධත්වයට පත්වුනේ. ඊටපස්සෙ පින්වතුනි තමන්ගේ ප්‍රිය බිරිඳ ඇවිල්ලා ඒ මන්ත්‍රී දේවිය මහා වනයේම රෑ එළිවෙනකොට පින්වතුනි යොදුන් පහළොවක් දුවනවා. යොදුන් පහළොවක් කියන්නෙ කිලෝමීටර් එකසිය විස්සක් කැලේ දුවලා තියෙනවා, දරුවො හොය හොයා. ඒ සෑමතැනකම ලොව්තුරා සම්බුදු බවම හිතේ තියාගෙන ඉඳලා තියෙනවා. ඊටපස්සෙ එළිවෙනකොට කලන්තෙ හැදිලා බිමට වැටෙනකොට ඒ වෙස්සන්තර රජතුමාගෙ ඔඩොක්කුවෙදි ඇට ආපහු සිහිය ලැබෙනවා. ඊටපස්සෙ ඉක්මණට අයින්වෙලා කියනවා ස්වාමීනී මගේ දරුවො දෙන්නා කෝ. මන්ත්‍රී ඒ දෙන්නා බමුණෙකුට දන්දුන්නා කියනකොට සාධුකාර පැවැත්වූවා. කවදාවත් සසරේ ඔය විදියට අසංඛෙය්‍ය ගණන් දරුවෝ දන්දෙද්දි ඒ යශෝධරාව නම් අනේ කියලා නෑ. සාදුකාරය කියලා විතරයි තියනේනෙ. ඊටපස්සෙ ඒ මන්ත්‍රී දේවිය දන්දුන්නා. වෙස් මාරුකරගෙන ආපු බ්‍රාහ්මණයාට. තමන්ගේ ප්‍රිය බිරිඳ. එහෙම දන්දෙද්දි මිහිමඬල සලිත වුනා. යශෝධරාවට සසරෙ කවදාවත් ඒ විදියට දන් දෙද්දි අනේ කියලා හිතිලා නෑ. ඒකයි යශෝධරා ඒ ජීවිතේටම ආවෙ. මහා බෝධිසත්ත්වයන්ගේ ගුණත් එහෙමයි, යශෝධරාවන්ගේ ගුණත් එහෙමයි. සසරේ දාසකමටම දන්දීලා තියෙනවා අසංඛෙය්‍ය වාරයක් යශෝධරා. වළං හෝදා හෝදා හෝදන වළඳක් ගාණෙ ස්වාමියාට බුදුබව පතලා තියෙනවා. ඒ අසංඛෙය්‍ය වාරයක් ප්‍රිය බිරිඳ දන් දිදී සම්බුදු බව පතලා තියෙනවා. යක්ෂයන්ට දන් දීලා තියෙනවා. මේ වගේ අසීමිත දානස්කන්ධයක් වචනයෙන් කිව නොහැකි, ඒකයි පාරමිතා කියන්නෙ. වචනයෙන් කිව නොහැකි දාන පාරමී. රජවරු වෙලා ඉද්දින්, බ්‍රාහ්මණයෝ වෙලා ඉද්දින් දුන්නු දාන අනන්තයි අප්‍රමාණයි. නොදුන්නු දානයක් නෑ. ඒ නිසා

මේ විදියට අනන්ත අප්‍රමාණ දාන පාරමිතාවක් පුරලා ලොව්තුරා සම්මා සම්බුද්ධත්වයට පත්වුනේ අපගේ සම්මා සම්බුදු රජාණන් වහන්සේ. වෙන ලෝකෙ කිසිම ශාස්තෘවරයෙක්, කිසිම ආගමික නායකයෙක්, වෙන කිසිම කෙනෙකුට ඔය වාගේ ජීවිත කතාවක් නෑ පින්වතුනි. මුළු හදවතින්ම බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ඔච්චර දන් දුන්නු බුදුරජාණන් වහන්සේ සම්බුදු වුනා අවසාන ජීවිතේ, අහිංසක මනුස්සයෙක්ගේ ගෙදර ගිහිල්ලා පිළුණු පිට්ටු වළදනවානෙ. කුඹුරට ගිහිල්ලා කසීභාරද්වාජගෙ දානෙ නැතිව ආපහු එනවානෙ. බුදුරජාණන් වහන්සේලොගේ ජීවිත පුදුම සහගතයි. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ලොව්තුරා සම්බුද්ධත්වය ලබාගත්තේ අපරිමිත ගුණ සමුදායකින්. ඒ බුදුරජාණන් වහන්සේ සරණ යන අයටත්, නිවන් දකින මොහොත දක්වා සාපිපාසාවක්, දුකක්, නිරා දුකක් ලැබෙන්නෑ පින්වතුනි. ඒ බුදුරජාණන් වහන්සේගේ දාන පාරමිතාවේ ආනුභාවයට. ඒ නිසා මුළු හදවතින්ම බුදුරජාණන් වහන්සේ සරණ යන්න. අසිරිමත් සම්බුදු සරණ, නිවන් දකින මොහොත දක්වා හදවතේ රැඳේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා.

අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ, හන්දෙස්ස, හියාරාපිටිය ලිපිනයේ පදිංචි පින්වත් එම්.කේ.ආර්. දුනුවිල දියණිය ඇතුලු පවුලේ පින්වතුන් විසින්. මේ පින්වතුන් අද දවසේ අප්‍රමාණ පිනක් රැස් කරගත්තා. ඒ රැස් කරගත්ත පින අනුමෝදන් කරමු, විශේෂයෙන් පළමුවෙන් සෙත් ප්‍රාර්ථනා කරමු මේ ලක්දෙරණටත්, ලෝකයටත් මහා ව්‍යසනයක් වුනු ඒ කොරෝනා වසංගතය දුරින්ම දුරු වේවා. මේ ලක්දෙරණටත් ලෝකයටත් මනුස්ස වර්ගයාටත් යහපත සැලසේවා. උතුම් සම්බුදු බලයෙන්, දාන පාරමී පිරූ සම්බුදුරජාණන් වහන්සේගේ ආනුභාවයෙන් සකල සතට සෙත් වේවා, නිරෝගී සුව වේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වගේම සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙලා ඒ සියලු දෙවියන් ගෞතම බුදුසසුන ආරක්ෂා කරත්වා, මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. මේ පින් සතුටින් අනුමෝදන් වෙත්වා කියලා අනුමෝදන් කරමු. ඒ වාගේම අනුමෝදන් කරමු මියපරලොව ගිය ගම්පොළ, උඩුවැරැල්ල පාරේ පදිංචිව සිට විශ්‍රාමලත් විදුහල්පති දුනුවිල ජේ.ඩී.බී. රාමනායක පියාණන්ට හා හීන්මැණිකේ ජයසුන්දර මෑණියන් ඇතුළු මියගිය සියලූම ඥාතීමිත්‍රාදීන්ට මේ අප්‍රමාණ පින අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. ඔබ කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන්ටද මේ පින් අනුමෝදන් වෙත්වා. පරලොව සැපය වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම මේ පින් අනුමෝදන් වේවා

අපගේ පරම පූජනීය, ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් බලයෙන් නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තමයාණන් වහන්සේ ඇතුළු සියලු ස්වාමීන් වහන්සේලාට, අනගාරිකා මෑණිවරුන්, පැවිදි අපේක්ෂක දූ පුතුන් ඇතුළු සියලු දෙනාට ගෞතම බුද්ධ ශාසනයේ ධර්මාවබෝධය සැලසේවා කියලා අපි පින් පමුණුවමු. ඒ වගේම හන්දෙස්ස, හියාරාපිටිය යන ලිපිනයේ පදිංචි පින්වත් එම්.කේ.ආර්. දුනුවිල දියණිය ඇතුළු පවුලේ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. ඒ දුනුවිල දියණියට නිදුක් නිරෝගී සුවපත් භාවය දීර්ඝායුෂ සම්පත්තිය, ධර්ම දානයෙන් ලැබුන පින්වල ආනුභාවයෙන් මේ ගෞතම බුද්ධ ශාසනයේ ගුණධර්ම පුරාගෙන සසර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා කියලා සෙත් පතනවා. අපගේ මව් දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන්ටත්, ගුරුවරුන්ටත්, ඥාති හිතෛෂීන්ටත් කාටත් උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගැනීම පිණිස, ඒ වගේම ලක්විරු ගුවන්විදුලියේ, ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ දරුවන්ට ඒ වගේම ධර්ම දායකත්ව පවත්වන සියලු දෙනාට මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම ඔබ සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වෙලා බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුණ සමුදාය ඉගෙන ගෙන කියාගෙන බුද්ධානුස්සතියෙන් හිත පුරවාගෙන පව් බැහැර කරලා හිත සුවපත් කරගනිත්වා. නිවන් දකින මොහොත දක්වාම බුදුරජාණන් වහන්සේම සරණ යත්වා. තමන්ගේ අධ්‍යාත්මයේ නායකයාණන් වහන්සේ විදියට හදවතේ නිතර බුදුරජාණන් වහන්සේ ගැනම සිහි කරත්වා. ඔබ සියලු දෙනාට උතුම් තිසරණය තුළින් මේ ගෞතම සසුනේ පිහිට ලබන්නටත්, නිවන් අවබෝධ කරගන්නටත් වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=u-T6F1P9tVU&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=8

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ කර්මය වට්ස්ඇප් එකමුතුවේ කල්‍යාණමිත්‍ර පිරිස විසින් එකතු වෙලා අද මේ ධර්ම දේශනාවට දායකත්වය දරනවා. එතකොට මේ පින්වතුන්ට මේ ධර්ම දානය ලබාදීමේ පින බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා. අද ධර්මදේශනාවට අපි සාකච්ඡා කරන්නෙ බුදුරජාණන් වහන්සේ සංසාරයේ ලොව්තුරා සම්බුද්ධත්වය පිණිස පිරූ ගුණධර්මයන් ගැන තමයි අපි කතා කරමින් සිටින්නෙ. පාරමිතා වශයෙන් උන්වහන්සේ දානය පරතෙරටම වඩපු හැටි, සීලය පරතෙරටම තමන්ගේ ජීවිතය දෙවැනි තැනට දාලා සීලය පළවෙනි තැන ඉඳලා සිල් රැකපු හැටි අපි කතා කලා. උන්වහන්සේ සීලය හැමවෙලාවෙම රැක්කේ මගේ සීලය ලොව්තුරා සම්බුදු බව පිණිසයි, දුකින් නිදහස් වීම පිණිසයි කියලා. මං මේ සිල්පද කැඩුවොත් එහෙම මම කොහොමද මේ දුකින් නිදහස් වෙන්නේ කියලා නිතර හිතුවා. ඒ අනුව හොඳට සිල් රකින්න පුලුවන්කම ඇතිවුනා. අද වුනත් කෙනෙකුට සීලයක් රකිනකොට අනේ මේ සිල් පද මගෙන් කැඩුනොත් එහෙම මං කොහොමද දුකින් නිදහස් වෙන්නෙ කියලා කල්පනා කරනවා නම්, එයාගේ සීලය ප්‍රඥාගෝචරයි. එතකොට එහෙම ඉඳලා කෙනෙක්ගේ අතින් අපි කියමුකෝ මොනවාහරි යම් හේතුවක් නිසා සීලය කැඩුනා කියලා. එතකොට එයා කල්පනා කරනවා, මම දැන් සිල් කැඩුනා කියලා දොම්නස් වෙවී හිටියා කියලා කොහොමද මම දුකින් නිදහස් වෙන්නෙ. එහෙනම් මං වහා ආපහු සීලය අධිෂ්ටාන කරගෙන ආපහු වරදක් නොවෙන විදියට මගේ හිත හදාගන්න ඕන. එයාට ඕනවෙන්නේ සීලය අවුරුදු ගාණක් මෙච්චර රැක්කා, මෙච්චර රැක්කා කියලා ගණන් හදන්න නෙවෙයි, එයාට උවමනාව තියෙන්නෙ මට දුකින් නිදහස් වෙන්න මම කොහොමහරි මේ සීලය රකින්න ඕන කියන අදහස. ඒක ගොඩාක් හිතට සැනසිල්ල ලබාදෙනවා. දුකින් නිදහස් වෙනවා කියන අදහස ආවම. ඊටපස්සෙ පින්වත්නි මහා බෝධිසත්ත්වයන් වහන්සේගේ ජීවිතයේ අතීතයේ

විස්තර හරී පුදුම සහගතයි. දැන් මේ දස පාරමිතා ගැන කතා කරද්දි අපි කොටස් දහයකට කතා කලාට එක ජීවිතයක් තුලම ඔක්කොම වැඩෙනවා. දැන් අපි ගත්තොත් එහෙම වෙස්සන්තර ජාතකය ගත්තොත් වෙස්සන්තර රජ්ජුරුවො දන් දුන්නු එක, දානය. ඊළඟට වෙස්සන්තර රජ්ජුරුවෝ පඤ්චසීලයෙන් යුක්තයි. වනයට ගිය ගමන්ම කිව්වෙ දේවී නොකාලයේ මාගේ අසපුවට වඩින්න එපා. එතකොට බ්‍රහ්මචාරී සීලය සමාදන් වුනා. එතකොට මාස හතක් එදා මන්ත්‍රී දේවිය කලන්තෙ හැදිලා වැටෙනකල්ම මන්ත්‍රී දේවියගේ කෙස් ගහක්වත් ස්පර්ශ වෙලා නැහැ වෙස්සන්තර රජ්ජුරුවන්ගේ. එතකොට එච්චර සීලය රැක්කා. එතකොට ඒ බෝධිසත්ත්වයෝ රකින ගුණ එකතුවෙන්නෙ සීල පාරමිතාවට. ඊළඟට තියෙන්නෙ නෙක්කම්මය. නෙක්කම්මය අර සියලු දේ අතහැරලා මහවනයට ගිය එක නෛෂ්කර්මයනේ. ඊළඟට ඒ නුවණින් කල්පනා කරන ස්වභාවය අයිති ප්‍රඥාවටනේ. ඊළඟට මම දරුවෝ දෙන්නා දන් දෙනවා කිව්වොත් ඒ සත්‍ය වචනයේ පිහිටලා ඉන්න හැටි, සත්‍ය පාරමිතාවනේ. ඊළඟට යම්දෙයක් දෙනවා කියලා ඒ තියෙන අධිෂ්ටානය, සීලය රකින්න තියෙන අධිෂ්ටානය, ගුණධර්ම දියුණු කරගන්න තියෙන අධිෂ්ටානය. ඊළඟට දන්දීමේ අධිෂ්ටානය. ඒක අයිති අධිෂ්ටාන පාරමිතාවටනෙ. ඊළඟට තමන්ගේ දන් දුන්නු මිනිස්සුන්ම තමන්ට විරසක වෙනකොට ඒ තැන් දෙකේදීම උපෙක්ෂාවෙන් ඉන්න එක අයිති උපෙක්ෂා පාරමිතාවටනෙ. තමන්ගෙන් දන් ඉල්ලාගෙන එන මනුස්සයාටත්, තමන්ට විරසක වුනු මනුස්සයාටත් ඒ දෙදෙනාටම මන්ත්‍රී දේවියටත්, ජූජක බමුණාටත්, එකම මෙත් සිත වැඩුවානෙ. ඒක අයිති මෛත්‍රී පාරමිතාවටනේ. එතකොට එකම ජීවිතයක් තුළම පාරමී ධර්ම වැඩෙනවා. නමුත් එක දෙයක් ප්‍රකට වෙනවා. එතකොට වෙස්සන්තර ජාතකයේ ප්‍රකට වුනේ දන්දීම. නමුත් පාරමිතා දහයම වැඩෙනවා. ඔය විදියට තමයි හැම ජාතක කතාවකම, හැම ජීවිතයකම සිද්ධ වෙච්චි දේවල්. එක ගුණයක් ප්‍රකට වෙනවා. එතකොට අද අපි ගත්තොත් අපි ඒ පුරපු ගුණධර්මත් එක්ක දානය සීලය ගැන කතා කලා. ඉතින් ඒවා ගැන අහනකොටම අපිට හිතෙනවා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ගැන කවර කතාද, බෝධිසත්ත්වයෝ පවා පිදුම් ලබන්න සුදුසුනේ කියලා, බෝධිසත්ත්වයෝ පවා. ඉතින් පින්වතුනි, අද අපි කතා කරමු, නෛෂ්කර්මය, ගිහිගෙය අත්හැරීම ගැන. අම්මෝ ගිහිගෙය අත්හැරීම නම් හරිම පුදුමයි. මහා බෝධිසත්ත්වයෝ සංසාරයේ වැඩිපුරම කරලා තියෙන දෙයක් තමයි ගිහිගෙය අත්හැරීම. ඇත්තටම මහා බෝධිසත්ත්වයන්ගේ

ජීවිතේ සසරේ වැඩිපුරම ජීවිත තපස් රකින්න තමයි ගිහිල්ලා තියෙන්නෙ. ඒ වගේම බුද්ධ ශාසනවල ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේලා මුණ ගැහුනු ශාසන වල බොහෝ විට පැවිදි වෙලා ඉඳලා තියෙන්නෙ. අපේ බුදුරජාණන් වහන්සේට කලින් ලෝකෙ පහළ වුනු කාශ්‍යප තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ කාලෙ ජෝතිපාල මානවක වෙලා මහා බෝධිසත්ත්වයෝ ගිහිගෙය අත්හැරලා. ඉතින් ගිහිගෙය අත්හැරිය වාර ගණන් කරන්න බෑ. එක කල්පයකට එක වතාවක් ගිහිගෙය අත්හැරලා පැවිදි වුනත් අසංඛෙය්‍ය හතරකුත් ලක්ෂයක්, ගිහිගෙය අත්හැරලා තියෙනවා. මහා බෝධිසත්ත්වයෝ සංසාරයේ ගිහිගෙය, නෛෂ්කර්මය මේ කාමය අත්හැරලා යෑම පුරුදු කරපු දේවල් බලනකොට උන්වහන්සේ වෙනුවෙන් නෛෂ්කර්මය කරපු පැවිදි වුනු ගිහිගෙය අත්හැරපු පිරිස වැලි කැටයක් වගේ. මහා බෝධිසත්ත්වයෝ ගිහිගෙය අත්හැරපු එක හිමාල පර්වතය වගේ. එච්චරම ගිහිගෙය අත්හැරලා තියෙනවා. කාමය කෙළපිඩක් වගේ අත්හැරලා තියෙනවා. උන්වහන්සේට ගිහිගෙය අත්හරින්න මේ පුංචි දේ ඇති. දැන් මේ යුධංජය කියලා ජාතකයක් තියෙනවා, ඒ ජාතක කතාවේ උදේ පාන්දරම කුමාරයා උයන්කෙළියට යනවා, රජ කුමාරයෙක්, මහා බෝධිසත්ත්වයෝ. එතකොට ඒ සීතල කාලෙ උදේට පිණිපොද වැටිලා අර තණකොළ අග අර හිම මිදෙනවා වගේ වතුර මිදිලා තියෙනවා. අදටත් ඔය පිටරටවල් වල සාමාන්‍යයෙන් සීතල වැඩිවීගෙන එනකොට රාත්‍රියේ වැටෙන පිණිපොද වෙනම තණකොළ අග තියෙනවා. ඉතින් ඒ නිසා අර කුමාරයා දැන් මේවා දැක්කා. දැකලා රථාචාරියාගෙන් අහනවා, රථාචාරිය, මොනවද මේ? ඊටපස්සෙ කිව්වා ස්වාමීනී සීතල කාලෙ වැඩියිනෙ. ඒ නිසා වැටෙන පිණිපොද තණකොළ අගට එකතුවෙලා. ආ එහෙම තමයි කියලා, ගිහිල්ලා සීතලේ උයනේ අශ්වයා පිට වටේ ගිහිල්ලා උයන් කෙළි කරලා ආපහු එනකොට, එයාගෙ හිතට මතකයි අර ලස්සන පිණිපොද වැටිලා තියෙනවා. දැන් දවල් වෙනකොට නෑ. ඊටපස්සෙ ඇහුවා, දැන් මේ නෑනෙ උදේ යනකොට අපි දැකපු ඒවා. අනේ ඉර පායනකොට ඒවා ගෙවිලා යනවා, වාෂ්ප වෙලා යනවා කිව්වා. ඔය ඕනම තණකොළ අග තියෙන පිණිබිංදුවකට ඉර පෑව්වාට පස්සෙ වාෂ්ප වෙනවා මොන ආයුෂක්ද කියලා ඇහුවා. එකපාරම ඒ යුධංජය කුමාරයාට එකපාරම හිතුනේ අපේ ජීවිතේටත් ඔය ටිකම නේද කියලා. තණකොළ අග තියෙන පිණිබිංදුවක් වගේ ජීවිතේ. ඉතින් ඒ නිසා මේ ජීවිතේ නම් ඒ හැටි කාලයක් පවතින් නෑ, ඒ නිසා මීට වැඩිය හොඳයි මං පැවිදි ජීවිතේකට පත්වෙලා මං ගුණධර්ම දියුණු

කරගන්නවා පොඩි කාලයක් තියෙන්නෙ. කියලා ගෙදර ගිහිල්ලා රජතුමාට කිව්වා රජතුමනි, මට පැවිදි වෙන්න ආසයි. රජතුමා අනේක වාරයක් කරුණු කිව්වා යන්න එපා පුත්‍රය උඹට මම අදම අභිෂේක කරලා රජකම පවරනවා. ඊටපස්සෙ කිව්වා මම රජකමට ආස නෑ, මට පැවිදි වෙන්න ඕන. තණකොළ අග තියෙන පිණිබිංදුවක් වගේ ජීවිතේ කියලා. ඊටපස්සෙ ඇමතිවරු, මුළු රටටම ආරංචි වුනා යුධංජය කුමාරයා පැවිදි වෙන්න හදනවා කියලා. මහා සෙනඟ පිරිවරාගත්තා මිදුලේ. ඒ සෙනඟ පිරිවරාගෙන කුමාරයාට යන්න දෙන්නෑ, කුමාරයාගේ තේජසින් ඒ පිරිස දෙබෑ කරගෙන ගිහිල්ලා, නුඹලාත් කල්පනා කරපල්ලා ජීවිතේ තණ අග තියෙන පිණි බිංදුවක් වගේ කියලා, අළුයම ලූ කෙළපිඬක් වාගේ රාජ සම්පත්තිය අතහැරලා පැවිදි වෙන්න ගියා. ඔය විදියට ගිහිගෙය අත්හැරපු ජීවිත අසංඛෙය්‍යයි, අප්‍රමාණයි. බුදුරජාණන් වහන්සේ, මහාබෝධිසත්ත්වයෝ තරම් ගිහිගෙය අත්හැරිය කිසිම කෙනෙක් මේ තුන්ලෝක ධාතුවේම නෑ. ඒ නිසයි ඒ අත්හැරීම පාරමිතාවක් වෙන්නෙ. කිසිකෙනෙකුට ළංවිය නොහැකියි, පරතෙරටම පත්වුනා කියන එක. ඔය විදියට ගිහි ජීවිතය අත්හැරපු වාර අනන්තයි අප්‍රමාණයි. රජසැප අත්හැරපු ජීවිත අනන්තයි අප්‍රමාණයි. ඉතින් ඒ නිසා බලන්න රජවරු පවා ගිහි ජීවිතේ අත්හැරියානෙ. අද ඉන්න මිනිස්සුන්ට ගිහි ජීවිතේ අත්හැරගන්න හිතන්නවත් බෑනෙ. අද ඉන්න මිනිස්සුන්ට හරී අමාරු දෙයක්නෙ ගෙදරින් සතියක් එළියට වෙලා ඉන්න එක හරි. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ තව තියෙනවා, දැන් ඔය සෝමණස්ස කියලා ජාතකයක්, මං මේ චර්යාපිටක පාලියෙන් විස්තර කියන්නෙ. සෝමණස්ස කුමාරයා, ඒත් මහා බෝධිසත්ත්වයෝ, ඒකනම් හරීම පුදුම සිද්ධියක්. මේ ඉස්සර සිද්ධ වෙන දේවල්. තාපසයින් වහන්සේලා කණ්ඩායමක් එක රාජ්‍යයකට එනවා. ඒ රාජ්‍යයේදී, ඒ රජතුමාගෙන් ගරු සත්කාර සම්මාන ලැබෙනවා. ඉතින් ටික කාලයක් ඉදලා තාපසයින් වහන්සේලා යද්දි, ඒ රට වැසියෝ කියනවා අනේ තාපසයින් වහන්සේලා අපේ මහරජ්ජුරුවන්ට පුතෙක් නෑ. බොහෝ කාලයක් දැන් දරුවෝ නෑ කියලා. ඊටපස්සෙ තාපසයින් වහන්සේ දිවැසින් බලනවා, මේ රජතුමාට දරුවන් ඉපදෙන ස්වභාවයකින් යුක්තයිද නැද්ද, එතකොටම දැක්කා දිවැසින් අද රාත්‍රියට දිව්‍යලෝකෙන් දෙවියෙක් චුත වෙලා අගබිසවගේ කුසේ පිළිසිඳ ගන්නවා. ඊටපස්සෙ මිනිස්සුන්ට කිව්වා බයවෙන්න එපා, අද රාත්‍රියේ දෙවියෙක් අගබිසවගේ කුසේ පිළිසිඳ ගන්නවා, පින්වත්න දරුවෙක් කියලා. මේ තාපස කණ්ඩායමේ හිටියා එක්තරා කූට තාපසයෙක්. මේකා අර තාපසයින්

වහන්සේලා යන්න ඇරලා හොරෙන් ආයෙ හැරිලා ආවානෙ රාජ මාලිගාවට. රජ්ජුරුවෝ මොකද කියලා ඇහුවා. ඊටපස්සෙ කිව්වා රජතුමනි, මම මේ කල්පනා කලේ ඔබ වහන්සේ ගොඩාක් අපිට උපස්ථාන කලා, ඔබට දරුවො නැනේ කියලා මං හොඳට දිවැසින් බැලුවා කිව්වා. බලනකොට මට පෙණුනා - දැන් කිව්වෙ වෙන කවුරුවත් - මෙයා කියනවා මට පේනවා අද රාත්‍රියේ ඔබ වහන්සේගේ බිසවට දරුවෙක් පිළිසිඳ ගන්නවා, හැබැයි මේක නොදැනගෙන හිටියොත් එහෙම දරුවා ගබ්සා වෙනවා. ඒකයි මං මේ කියන්න ආවෙ. ඔබතුමා බොහෝ කාලයක් ජීවත් වේවා. රජතුමාත් දරුවන් නැතිව බොහෝ කාලයක් දුක් විඳ විඳ ඉඳලා ඒ ගැන හිත හිතා ඉඳලා මේ පණිවිඩේත් එක්ක රජතුමාට ඉස්පාසුවක් නෑ, සතුට. ඊටපස්සෙ සතුටට ඒ තාපසයින් වහන්සේට කිව්වා, වැඳලා කියන්නම් ඔබ වහන්සේ තමයි මගේ ජීවිතේ මිහිරිම පණිවිඩේ අරන් ආපු කෙනා. ඔබ වහන්සේ යන්න එපා, ඔබවහන්සේ අපේ උයනේ වැඩ ඉන්න කියලා, උයනේ වෙනම තාපසාරාමයක් හදලා උපස්ථාන කලා. ඒ තාපසයාට නම කිව්වෙ දිබ්බචක්ඛු තාපස කියලා. බොහෝ දෙනා සතුටු කරගෙන අගබිසවගෙන් පුතෙක් ඉපදුනා සෝමණස්ස කියලා. එතකොට ඔහොම ඉන්නවා දැන් තාපසයා මොකද කරන්නෙ, දැන් උයන රජතුමා භාරදීලානේ තියෙන්නෙ, උයනේ වෙනම එළවළු හදනවා, ගොවිතැන් බත් කරනවා, ඊළඟට මල් වර්ග වවනවා. ඊටපස්සෙ මේ කූට තාපසයා ඒ ගොවිතැන් බත් කරපු ඒවා, මේ මල් වවපු ඒවා, ඊළඟට පලාවවපු ඒවා, ඒවා ඔක්කොම විකුණලා ආදායම් උපයනවා. දැන් රජතුමා ඉතින් කිසිම දෙයක් නෑ, රජතුමා මහා දිවැස් ලාභී බ්‍රහ්මයෙකුට වගේ තමයි සළකන්නෙ. අවුරුදු හතකින් විතර යුද්ධයක් ඇතිවෙලා රජතුමා යුද්ධෙට යනකොට කුමාරයාටයි සියලු දෙනාට කිව්වා අපේ දිබ්බචක්ඛු මහා ඍෂීන් වහන්සේට උපස්ථාන කරන්න ඕන කියලා. ඉතින් අවුරුදු හතේ පුංචි කුමාරයා උයනට යනකොට අර තාපසයා අත් දෙකෙන් කළ දෙකකට වතුර අරන්, වතුර දානවා, ගොවිතැන් කරනවා, එළවළු වලට පස් දානවා, මල් වවනවා, මල් කඩනවා, මේ ඔක්කෝම මේ පුංචි කුමාරයා බලාගෙන හිටියා, බලාගෙන ඉඳලා කල්පනා කලා මෙයා තාපසයෙක් නෙවේනෙ. මෙයා ශ්‍රමණයෙක් නෙවෙයිනෙ, මෙයා ගෘහපතියෙක්නෙ. ඊටපස්සෙ මේ කුමාරයා ගිහිල්ලා ආ එම්බා ගෘහපතිය, කෙසේද සුවසේ වාසය කරන්නේද කියලා ඇහුවා. දැන් අනිත් අය මහා ඍෂීන් වහන්සේ කියලානෙ කතා කරන්නෙ. අර තාපසයාට මේකෙන්ම කිපුණා. කිපිලා කිව්වා තෝ ඉතුරු කරන්නෑ දැනගන් කිව්වා. කියලා තාපසයා කල්පනා කලා මේ පොඩි එකා දැන්ම මෙහෙම නම්

පස්සෙ කොහොම වෙයිද කියලා මේ කුමාරයා මරවන්න ඕන කියලා, රජතුමා යුද්ධෙ දිනලා එනකොට තාපසාරාමයේ තිබ්බ සියලුම බඩුමුට්ටු පොළොවේ ගහලා ඇඟේ තෙල් ගාගෙන එළියට වෙලා කෙඳිරි ගගා හිටියා. තාපසයින් වහන්සේ, රජතුමා කොච්චර තාපසයින් වහන්සේට ගරු කරනවාද, බැඳිලාද කියනවා නම් මාළිගාවට යන්න කලින්ම ආවෙ තාපසාරාමයට. එනකොට බඩුමුට්ටු පොළොවේ ගහලා, බිම වැතිරිලා ඇඟේ තෙල් ගාගෙන අඬනවා තාපසයා. ඊටපස්සෙ අනේ මගේ තාපසයින් වහන්සේට මොකද වුනේ. මෙන්න ඔබතුමාගෙ පුතා කරපු දේ කිව්වා. ඒ රජතුමා ඒ වෙලාවෙම අණ කලා ඒ කුමාරයාගෙ හිස ගසාදාන්න ඕන, මස් කෑලි වලට කපලා වීදි වල දාන්න ඕන, මේ උග්‍ර තපස් ඇති මහා දිවැස්ලාභී තාපසතුමාට කරපු හානිය මේ ජීවිතයේදීම විපාක දුන්නා කියලා මිනිස්සුන්ට පේන්න ඕන කිව්වා. අනේ අර අම්මාගේ ඇකයේ ඉන්න පුංචි අවුරුදු හතේ කුමාරයා පෝරිසාදයා විසින්, වධකයා විසින් ඩැහැගෙන එනවා. කුමාරයා එකපාරම කිව්වා, ඔන්න බලන්න දැන් නෙක්කම්මය ගැන මං කියන්නනෙ යන්නෙ. නමුත් ප්‍රඥාව, කුමාරයා එකපාරටම කිව්වා මාව ගෙනිච්චට කමක් නෑ, රජතුමාට කිවයුතු රාජකාරී කීපයක් තියෙනවා රජතුමාට දන්වන්න ඕන. ඊටපස්සෙ හිස ගසාදාන්න කලින් ඒ පණිවිඩේ රජතුමාට දෙන්න එපායෑ. ඊටපස්සෙ රජතුමා ළඟට කුමාරයා ගෙන්නගෙන ගියා. කුමාරයා කිව්වා රජතුමනි මුලා වෙන්න එපා කිව්වා. මුලා වෙන්න එපා පොඩ්ඩක් ගිහිල්ලා බලන්න කිව්වා ඔය තාපසයාගේ ආරාමෙ පිටිපස්සෙ කැලේ දිහා. තනිකර එළවළු කොටු වවාගෙන, මල් වවාගෙන, ඊළඟට නොයෙක් දේවල් වවාගෙන ඒවා විකුණ විකුණා ඒවාගෙන් මුදල් හම්බ කර කර ඉන්නෙ කිව්වා, මේ අයට පැවිද්දක් කොයින්ද කියලා ඇහුවා. තාපසකමක් කොහෙන්ද කියලා ඇහුවා. පොඩ්ඩක් බලන්න කිව්වා ගිහිල්ලා මෙයා ගෘහපතියෙක් වගේ කිව්වා. ඔබතුමාට මොළයක් කියලා එකක් නැද්ද කියලා ඇහුවා. ඊටපස්සෙ අන්න අහවල් ගමේ අහවල් වීදියේ මල් විකුණන වෙළෙන්දාගේ අහන්න මෙච්චර කාලයක් මල් ගෙනිච්චේ කොහෙන්ද කියලා. අහවල් ගමේ අහවල් එළවළු වෙළෙන්දාගෙන් අහන්න මෙච්චර කාලයක් එළවළු කොහෙන්ද ගෙනිච්චේ කියලා. මේ අහවල් ගමේ අහවල් කෙනාගෙන් අහන්න ගොවිතැන් කරන ආයුධ කවුද උයනට අරගෙන ආවෙ කියලා. මේ අවුරුදු හතේ කුමාරයා කියනවා. රජතුමා ඔක්කොම ඒ වෙලාවේ කැඳෙව්වා. සියල්ල පසක් වුනා. රජතුමා කිව්වා ඉස්සර මෙයා හොඳින් හිටියා. මේ තාපසයා පස්සෙ විනාශ වෙලා. තාපසකම නැතිකරගෙන. මාගේ කුමාරයා මට

සමාවෙන්න. කිව්වා සමාව දෙනවා, ඒ වගේම මම අදම ගිහිගෙය අත්හැරලා යනවා කිව්වා. නුවණ නැති අය එක්ක අවුරුදු සීයක් ජීවත් වෙනවාට වැඩිය හොඳයි කිව්වා ගිහිගෙය අත්හරින එක. දැන් බලන්න ඔබත්, ඔබ වාසය කරන ලෝකෙ නුවණ තියෙන මිනිස්සුද ඉන්නෙ කියලා බලන්න. නුවණින් කටයුතු කරන අයද ඉන්නෙ කියලා බලන්න. ආවේගශීලී අයද ඉන්නෙ කියලා බලන්න. ඉක්මණට ආවේගයෙන් ක්‍රියාත්මක වෙන අයද ඉන්නෙ කියලා බලන්න. ඊටපස්සෙ රජතුමා කිව්වා මට සමාවදෙන්න, මම ආපහු මං මේවගේ දේවල් කරන්නෑ, මං නුවණින් විමසන්නම්. නුවණින් විමසන එක හොඳයි කිව්වා. නමුත් මට ගිහිගෙය අත්හරින්න හිතුනු සිත, මට ඒක ඇති. මං ඒක මැණිකක් වගේ රැකගන්නවා. මගේ නෙක්ඛම්මය මං මැණිකක් වගේ රැකගන්නවා කියලා රජතුමා හඬද්දි, රජතුමාට කිව්වා දැන් මම ඇවිල්ලා කතා කලේ නැත්නම් මේ වෙනකොට මගේ මස් කෑලි වීදි වල, ඒ නිසා ඔබතුමාට අයිතියක් නෑ දැන් ආයෙ මං ගැන තීරණ ගන්න. නමුත් පියාණන් වහන්සේ විදියට මේං වැඳලා මං අවසර ඉල්ලගන්නවා, මගේ මෑණියන්ගෙන්ද මං අවසර ඉල්ල ගන්නවා. ඔබලා බොහෝ කාලයක් ජීවත් වේවා, මම කසාවත් දරාගෙන ප්‍රවෘජා වෙනවා කියලා අවුරුදු  හතෙන් හිමාලයට ගියා, මහා බෝධිසත්ත්වයෝ. ඔය වගේ අවුරුදු හතෙන් පැවිදි වෙච්ච ජීවිත අසංඛෙයයයි අප්‍රමාණයි මහා බෝධිසත්ත්වයෝ. අවුරුදු හතෙන්. උන්වහන්සේ වෙනුවෙන් බුද්ධ ශාසනේ පැවිදි වුනු පොඩි හාමුදුරුවරු වැලි කැටයක් වගේ. උන්වහන්සේ පුංචිකාලේ සංසාරේ මහණ වෙච්චි ජීවිත මහමෙරක් වගේ. ඉන්දියාවේ ස්වාමීනාරායන් කියලා පුංචි දරුවෙක් ගෙදරින් නික්මිලා හිමාලයට ගිහිල්ලා පැන් කෙණ්ඩියක් අරගෙන මෛත්‍රිය ගැන කිය කියා මුළු ඉන්දියාවේම වෙරළාසන්නයේම සංක්‍රමණය කලා, චාරිකාවේ වැඩියා. ඊටපස්සෙ ඒ මෛත්‍රිය ගැන කියලා දීලා ගොඩාක් තාපසවරු හැදුවා, සාමිවරු හැදුවා. ඊටපස්සෙ එයා පස්සෙ කාලෙක මැරුණා. එයාට ගෝලයෝ ගොඩාක් ඉන්නවා. ආන්න ඒ තාපසයින් වහන්සේට, ඒ ස්වාමිනාරායන්ට ඒ පුංචි කාලෙ ගෙදරින් ගිහිල්ලා ඒ තපස් රැක්ක ඒ පුංචි දරුවාට සාමිවරයාට, ඒ පූජකයාට, ඒ පුංචි ඍෂීන් වහන්සේට, තාපසයින් වහන්සේට පූජෝපහාර පිණිස හදපු විහාරය තමයි අක්ෂරදහම් කියලා කියන්නෙ. අදටත් ඔය දිල්ලියේ තියෙන්නෙ. එයාගේ රූපය රත්තරනින් හදලා තියෙනවා. මේ එකවරක් එක ජීවිතයක් ගිහිගෙය අත්හැරලා මේ හිමාලයේ ගිහිල්ලා පාද චාරිකාවේ ගිය තාපසයෙකුට එච්චර ගෝලයෝ උපහාර කරනවා. රත්තරනින් හදලා තියෙන්නෙ පිළිමෙ. ඊටපස්සෙ වටේ මුළු මාළිගාවම, ඒ මුළු

විහාරයම මුළු කෝවිලම, මුළු මන්දිරයම ගල්වලින් හදලා තියෙන්නෙ. ඒ තරම් කැටයම් ප්‍රමාණයක්. හිතාගන්න බෑ. ලෝක ප්‍රසිද්ධයිනෙ. ඒකෙ තව ශාඛා තියෙනවා. එංගලන්තයේ තියෙනවා ශාඛාවක් තියෙනවා. හැම තැනම ශාඛා තියෙනවා. ස්වාමිනාරායන් ටෙම්පල් කියලා, අක්ෂරදහම්. එතකොට එකවාරයක් ගිහිගෙය අතහැරපු කෙනාට එහෙම ගෝලයෝ පුදනවානම්, එයාගේ ශිෂ්‍යයෝ ඒක කරන්නෙ. එහෙම පුදනවානම්, අසංඛෙය්‍ය අප්‍රමාණ වාරයක් ගණන් කළ නොහැකි තරම් අවුරුදු හතෙන්ම ගිහිගෙය අත්හැරලා පැවිදි වෙලා ධ්‍යාන වඩලා මරණින් මත්තේ බ්‍රහ්ම ලෝකෙ ගිය, එවැනි ජීවිත අසංඛෙය්‍ය අප්‍රමාණයක් තියෙන මාගේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේට කොච්චර සම්මාන කරන්න ඕනද. එතකොට එක විහාරයක් ඇතිද. මුළු පෘථිවියම රත්තරනින් කරපු විහාරයක් කරලා බුදුරජාණන් වහන්සේට පූජා කලත් ඒක සම්පූර්ණ පූජාවක්ද. මේවා නොදන්නා ලෝකෙ කලින් අපි සම්බුද්ධ රාජ මාළිගාව හදනකොට කොච්චර මිනිස්සු බැන්නද. භාවනා අසපු නම් කැලේ අස්සෙ තියෙන්න එපායැ. මොකට නම් මාළිගා හදනවාද කියලා. බුදුරජාණන් වහන්සේ විෂයෙහි කරන පූජාව ඉවසාගන්න බෑ. මේකට හේතුව මොකක්ද, තිසරණය නෑ, ශ්‍රද්ධාව නෑ. සමහරවිට සිවුරක් දාගෙන ඉන්න කෙනෙක් වෙන්න පුලුවන්. තිසරණය නෑ. මහා පණ්ඩිතමානයේ උගතෙක් කියලා සම්මත කෙනෙක් වෙන්න පුලුවන්. තිසරණය නෑ. ඉතින් ඒ නිසා අපේ පොල්ගහවෙල අසපුව ගත්තත්, පොල්ගහවෙල අසපුවේ ඉස්සෙල්ලාම ආරම්භ කරපු කුටි සෙනසුන් අසපුව ඇතුලෙ කැලේ තියෙන ඒවා තවමත් ඒ විදියටම තියෙනවා. වෙනස් වුනේ ඔක්කෝම බුදුරජාණන් වහන්සේට කරපු උපහාර දවසින් දවස උත්තම ආකාරයෙන් කලා. රහතුන් උදෙසා කරපු උපහාර උත්තම ආකාරයෙන් කලා. ඒ සම්බුද්ධ රාජ මාළිගාව වගේ මාළිගා කෝටියක් හැදුවත් ඔය මාළිගාව තනිකර රත්තරනින් හදලා පූජා කලත් මගේ බුදුරජාණන් වහන්සේගේ පා දූවිල්ලක් තරම්වත් ඒ උපහාර වටින් නෑ, එච්චරම ඒ උත්තමයාණන් වහන්සේගේ ගුණ කඳ. ඊටපස්සෙ තව ජීවිතයක් තියෙනවා අයෝධර කියලා. ඒ කියන්නෙ කුසට දරුවො එනවා, ඒ මහා බිසවුන්නාන්සේගේ, එක රජ කුලයක. ඒ ඉපදෙන ඉපදෙන දරුවා ගබ්සා වෙනවා. දරුවා කනවා, ඉපදුනාට පස්සෙ කනවා යක්ෂණියක් ඇවිල්ලා. කලින් ජීවිතේ උඹගේ දරුවෝ කනවා කියලා දිවුරපු කාන්තාවක්. ඊටපස්සෙ යක්ෂණියක් ඇවිල්ලා දැන් දරුවො කනවා. ඉතින් මහා බෝධිසත්ත්වයෝත් ඒ කුසේ පිළිසිඳ ගත්තා. ඊටපස්සෙ ඍෂීන් වහන්සේලා රජතුමාට කිව්වා,

රජතුමනි යක්ෂයෝ හරි බයයි කිව්වා යකඩින් කරපු ගෘහයට. දැන් ඔය කනප්පු වල, කනප්පු ඇවිද්දවන අද කාලෙ එක ශාස්ත්‍රයක් තියෙනවානෙ. ඒ කනප්පුව වුනත් යකඩ ඇණයක් ගහන්නැතිව හදන්න ඕන. අපි අහලා තියෙන විදියට. ඒ නිසා තමයි ඉස්සර ඔය ගෑණු ළමයි යද්දින් කොණ්ඩේ පොඩි ඇණයක් ගහලා යවන්නෙ. ඒ කියන්නෙ යක්ෂයන්ට පුදුම විදියේ විකර්ශණයක් ඇතිවෙනවා කියනවා යකඩත් එක්ක. යකඩත් එක්ක විකර්ශණයක් ඇතිවෙනවා කිව්වු වෙන්න බැරි එකක්. මොනවාහරි දෙයක් ඇති අපිට තේරෙන්නෑ. ඉතින් ඊටපස්සෙ සෘෂීන් වහන්සේ, මේ බලන්න මේවා ජාතක කතාවල තියෙනවානෙ, යකඩෙන් කරපු ගෘහයක බිසවුන් වහන්සේ තියන්න කිව්වා, ඊටපස්සෙ ඔය යක්ෂණියට එන්න බෑ කිව්වා. ඊටපස්සෙ යකඩින් කරපු ගෘහයක තමයි අර කුසදරු අම්මා තිබ්බෙ. දරුවා බිහිකලේ ඒකෙ, දරුවා හැදුවේ ඒකේ. ඒක තමයි අයෝඝර. යකඩින් කරපු ගෙදරක වාසය කලා. කුමාරයට නම වැටුනා අයෝඝර කුමාරයා කියලා. අවුරුදු දහසයක් විතර ඒ කුමාරයා ඒ ගෘහයේ වාසය කරලා රජතුමා ගෙන්නුවා රාජ මාළිගාවට. ඒ අතරෙ අර යක්ෂණී වෙසමුණි දිව්‍ය රාජයාට දිය අදින්න ගිහිල්ලා ඒ වත්කරන ගමන්ම මැරුණා. ඊටපස්සෙ ඒ කුමාරයා, දැන් මට ඕක කියනකොට හිතුනෙ සමහරවෙලාවට අදටත් ඔය ඉන්නවානෙ දරුවන් හරියට නැතිවෙන, අපි දන්නෑනෙ ඒකට හේතුව. සමහර ඒවා තියෙනවා කළුකුමාර දෝෂය නිසා ගොඩාක් සිද්ධි. සමහර විට මේවාගේ ඒවත් ඇති. නමුත් අපිට තේරෙන්නෑ කුමක්ද කියලා. නමුත් මේක කියවනකොට මට හිතුනා ඒ වාගේ අය යකඩ ඇඳක් පාවිච්චි කලොත්, ඒ වගේම යකඩ ඇඳේ හතර පැත්තෙන් යකඩ කණු යකඩ පටි හතරක් උඩට ගිහිල්ලා ඒ වියනත් යකඩෙන්ම ගිහිල්ලා, එතකොට ඒ අම්මා නිදාගන්නකොට නිදාගන්නෙ යකඩින් කරපු සැකිල්ලක් ඇතුලෙ. එතකොට යම් ආරක්ෂාවක් එන්න බැරිද කියලා මට හිතුනා මේ ජාතක කතාව කියවනකොට. නමුත් මම දන්නෑ ඒවා. නමුත් මේ ජාතක කතාව කියවනකොට හිතිච්ච එක. ඉතින් ඒ කුමාරයා බේරුනේ ඒ යකඩ ගෘහයේ හිටපු නිසා. ඊටපස්සෙ මේ මහා බෝධිසත්ත්වයෝ. ඊටපස්සෙ ඒ කුමාරයා මාළිගාවට ගෙන්නුවා. ඉතින් කුමාරයා ඒ වෙලාවේ වටපිට බැලුවා. ඇයි මෙච්චර කාලයක් හිටියේ යකඩ ගෙයි. ඊටපස්සෙ වටපිට බලලා මාළිගාවට යනකොට රන් රිදී මුතු මැණික් වලින් කරන ලද රාජසභාව දුටුවා. රජතුමාට අවුරුදු දාසයකට පස්සෙ දකින පුත්‍රයා දකිනකොට සතුට ඉස්පාසුවක් නෑ. දුවගෙන ගිහිල්ලා වැළඳගත්තා. පුත්‍රය මට හරී සතුටුයි. නුඹ කියාපන් මං නුඹට අද වරයක් දෙනවා. පුතා කිව්වා තාත්තේ

ඔබ මට වරයක් දෙනවා නම් මට අදම පැවිදි වෙන්න යන්න වරයක් දෙන්න කිව්වා. ඊටපස්සෙ රජතුමාගෙ හදවත නැවතුණා මොහොතකට. මාගේ පුත්‍රය ඇයි එහෙම කියන්නෙ. නුඹට රජකම අදම දෙනවා කිව්වා. ඊටපස්සෙ කිව්වා පියාණෙනි, මට මගේ කලින් ජීවිතේ පේනවා කිව්වා. මට කලින් ජීවිතේ මම හිටියෙ දෙව්ලොවක. ඒ දිව්‍ය සම්පත්තියටවත් මං එච්චර ආස කලේ නෑ. ඊටපස්සෙ මේ කාම සම්පත්තියට නම් මං මොනවාට නම් ආස කරන්නද. එකක් තමයි කිව්වා අම්මාගේ කුසේ අම්මාගේ බඩ ඇතුලේ ඒ අශුචි වළක් වගේ කුසේ ඇතුලෙ මං බොහෝ කාලයක් දුක් වින්දා කිව්වා. ඊටත් වැඩිය දුකක් කිව්වා මේ යකඩ ගෘහයක් අස්සේ මං අවුරුදු දාසයක් හිටියා, ඉර හඳ පේන්නැතිව. මෙහෙමත් මනුස්ස ලෝකෙ දුක තියෙනවා නම් මේ රාජ සම්පත්තිය මොකටද කියලා ඇහුවා. ඒ නිසා මට මේ දුකෙන් නිදහස් වෙන්න ඕන. ඒ නිසා මට පැවිද්ද දෙන්න අනුදැන වදාරන්න කියලා පැවිද්ද පිණිස අවසර දෙන්න කියලා කොහොමහරි අවසර අරන් සියලු දෙනාම විරුද්ධ වෙද්දි කරුණු කිය කියා කරුණු කිය කියා ඒ සියලු දෙනා නිහඬ කරලා පැවිදි ජීවිතයකට ගියා. මේ විදියට ගිහි ජීවිතේ අත්හැරපු වාර අනන්තයි අප්‍රමාණයි. ඊටපස්සෙ බලන්න මං දැක්කා ඒ තැන්වල කියනවා මට මේ දෙමව්පියෝ අප්‍රිය නොවී තිබියදී දෙමව්පියන් බොහෝ සේ ප්‍රිය වෙලා තියෙද්දීමයි මං ගිහිජීවිතේ අත්හැරියේ කියනවා. ජාතක කතා ගත්තොත් ජාතක කතා පන්සිය හතලිස් අටෙන් සාමාන්‍යයෙන් හාරසීයක් විතරම ගිහිජීවිතේ අත්හැරපු ඒවා. ඒ ඔක්කෝම ගිහිජීවිතේ අත්හැර අත්හැර යනවා. ඊටපස්සෙ දැන් බලන්න මේකට විශේෂ කාරණාව තමයි ගිහි ජීවිතේ අත්හැරීමේදී මහාජනක ජාතකය. මහාජනක ජාතකයේදී ඒ මහාජනක රජ්ජුරුවෝ උයනට ගිහිල්ලා උයනට යනකොට අඹ පිරීච්ච මාවතක් තිබ්බා. ඉතින් රජතුමාට හරී සතුටුයි. රජතුමාත් අඹ ගෙඩියක් කඩාගෙන වැළඳුවා. සේනාවත් එක්ක යන්නෙ, ඉතින් රජතුමා අඹ කඩාගත්ත නිසා සේනාවත් අඹ කැඩුවා. පොලු වලින් ගහලා හෙලි වලින් ගහලා අතු බිම දාලා ඊටපස්සෙ රජතුමා උද්‍යාන කෙළියට ගිහිල්ලා ආපහු එනකොට අඹ ගස්වල අතු නෑ, ගෙඩිත් නෑ. ඊටපස්සෙ ඇහුවා අමාත්‍ය මොකද මේ වුනේ. අනේ රජතුමනි ඵල තියෙන ගහටනේ පොලු වදින්නේ කිව්වා. එතකොට රජතුමාට තත්පරේට කල්පනා වුනේ එහෙනම් මේ ධනය තියෙන තාක්, කාමය තියෙන තාක්, ඒ තමයි යම්තාක් උවදුරු කම්කටොළු පැමිණෙන්නේ. මේවා අත්හැරියා නම් දුකක් නෑ කියලා, රජතුමා ඒ වෙලාවේම තමන්ගේ රාජ්‍ය කටයුතු භාරදීලා තමන්ගේ මාළිගාවේ උඩුහමහන් තලයේ තපස් රැක්කා මාස හතක්. රජතුමාට

ඒ තපස අපරිපූර්ණයි. ගහක් යට වනයේ තනියෙන් ඉන්නැතිව මේ මාළිගාවට වෙලා ඇයි මං මෙහෙම ඉන්නෙ. ඊටපස්සෙ මාළිගාවෙන් බැස්සා. මාළිගාවෙන් බහිනකොට දැන් මාස හතරකට පස්සෙනේ බහින්නෙ. එතකොට රජතුමාගේ බිසව සීවලී කුමාරි, අන්තඃපුරේ කාන්තාවන් එක්ක බොහෝ කාලයක් නොදැක්ක තමන්ගේ ස්වාමියා දකින්න පැමිණෙනවා. ඉතින් තාපස පිරිකර ඇතිව කෙස් කපලා ඒ රජතුමා මාස හතක් දැන් උඩුමහන් තළයේ දැන් ඒ තාපසයින් වහන්සේ තාපසයෙක් වෙලා රජතුමා ඉන්නවා. රජතුමාට දැන් ලොකු අඩුවක්නේ වනයේ යන්න නැති එක. දැන් කල්පනා කලා මේක හරියන්නෑ කියලා, ශ්‍රමණයෙක් විදියට සිවුරු දරාගෙන මාළිගාවෙන් හිමීට බැස්සා උදේ පාන්දරම. බැහැලා යන්න හදනකොටම සීවලී දේවියයි අර අනිත් පිරිස එනවා දැන් රජතුමා දැක්කෙ නෑ කියලා. ඊටපස්සෙ ඒ සීවලී දේවිය හිතුවා බිම බලාගෙන මේ වඩින මේ ශ්‍රමණයන් වහන්සේ පසේ බුදු කෙනෙක් වෙන්න ඇති කියලා හොඳට වන්දනා කරලා මාළිගාවට ගියා. මාළිගාවට යනකොට ඔක්කෝම අත්හැරලා. හිතුවා එහෙනම් අනිවාර්යයෙන් අර ගියේ අපේ රජතුමා තමයි කියලා දුවගෙන ගිහිල්ලා පාමුල වැටිලා අඬලා කිව්වා කොහෙද මේ මාව දාලා යන්නේ කියලා. ඊටපස්සෙ දේවිය අයින් වෙන්න කියලා දැන් යනවා. බලන්න මේ පැවිදි වෙන්න යනකොට තියෙන බාධා. ඊටපස්සෙ දැන් දේවිය නවත්තන්න හදනවා හදනවා නැවතෙන්නෑ දැන් යනවා. ඉක්මණට ඇමති කෙනෙකුට සංඥාවක් කරලා ඒ රජතුමා යන පාරෙ විශාල කලකෝලහාලයක් ඇති කලා. ඊටපස්සෙ ඇඟට එක එක තීන්ත වර්ග වත්කරගෙන ලේ පෙරුණු විදියට කිව්වා රජතුමනි මේ බලන්න කලකෝලහාල කරගන්නවා රාජ්‍යයේ, ඔබවහන්සේ නැතිව කොහොමද මේවා කරගන්නෙ. ඉක්මණට නවතින්න කියලා කිව්වා. ඊටපස්සෙ මේ නැසී වැනසී යන මිනිස්සු කොහොමටත් නැසී වැනසී යනවා. මං මේ නැසී වැනසී යන ජීවිතේ ඊට කලින් පිළිසරණක් හොයාගන්න ඕන. සීවලි මම දාලා යනවා ඔබ කියලා ඒ රජතුමා ගියා. දැන් එහෙම කරලවත් බැරිවුනා රජතුමා නතර කරගන්න. අද කාලෙ සාමාන්‍යයෙන් කෙනෙක් පැවිදි වෙන්න යන්න ඉන්නකොට ගෙදර කෙනෙකුට උණ හැදුනත් එයා නවතිනවානෙ. ඊටපස්සෙ අද කාලෙ කෙනෙක් පැවිදි වෙලා යන්න හිතනකොට උදේ කෙනෙක්ගේ එළවළු කපනකොට අත කැපුණොත් නවතිනවානෙ. අද කාලෙයි ඒ කාලෙයි බලන්න වෙනස. ඊටපස්සෙ ආයෙ සීවලී දේවිය ඇමතිවරුන්ට සංඥා කරවලා යන මාවතේ ගෙවල් ගිනි තිබ්බා. කිව්වා රජතුමනි මේ බලන්න මේ රාජ්‍යය ගිනි තියලා මහා විශාල කෝලහාලයක්

ඇතිවෙලා තියෙන්නෙ, නවතින්න කියලා කිව්වා. ඒත් නැවතුන් නෑ. ඊටපස්සෙ ඔහොම යනකොට ඔහොම යනකොට හිමාලයේ හිටපු තාපසයින් වහන්සේලා දිවැසින් දැක්කා මහා බෝධිසත්ත්වයෝ තපසට යනවා. ඒ තාපසයින් වහන්සේලා පාරේ තැන් කීපයක මතුවෙලා කිව්වා රජතුමනි පැවිද්දට යනකොට තනියම යන්න. එතකොට ඒ තැන් දෙකේදීම කිව්වා සීවලී මේ බලන්න තාපසයින් වහන්සේලාත් මට නිග්‍රහ කරනවා මං පිටිපස්සෙ මේ කාන්තාවෝ පිරිසක් එන්න එපා. මේ ඇමතිවරු එන්න එපා. මට මගේ පාඩුවේ පැවිද්දට යන්න දෙන්න. ඊටපස්සෙ ඒත් අහන්නෑ, ඒත් පිටිපස්සෙන් එනවා. ඊටපස්සෙ මොකද කලේ, ඔහොම යනකොට ආහාර වෙලාව ආවා. එතකොට එක බල්ලෙක් කොහෙන්හරි පුච්චපු මස් කෑල්ලක් ගෙදරකින් ඩැහැගෙන බල්ලෙක් පාරේ එනවා. පාරේ ඇවිල්ලා මේ පිරිස දැකලා අර මස් කෑල්ල බිම දාලා බල්ලා දිව්වා. ඊටපස්සෙ ඒ රාජ තාපසයින් වහන්සේ බිම ඉඳගෙන අර බල්ලා කාපු මස් කෑල්ලෙ ඉතිරි ටික කනවා. ඉතින් සීවලී දේවියගේ පපුව පුපුරන්න තනනවා. රජතුමනි ඔබ රාජභෝජන වළඳපු කෙනෙක් නේද. ඊටපස්සෙ කිව්වා ඒ මං රජකමේ ඉද්දින්. මං දැන් තාපසයෙක්, පිණ්ඩපාතයෙන් යැපෙන්නේ කිව්වා. අනේ නවතින්න කියලා හඬා වැළපෙද්දි ආයෙ යනවා. එහෙම යනකොට එක කෙල්ලෙක් වී කොටනවා. මෙහෙම අතින් අතට මෝල් ගහ මාරු කර කර වී කොටනවා. එක අතක වළලු දෙකක් තියෙනවා, අනිත් අතේ එක වළල්ලයි තියෙන්නෙ. වළලු දෙකක් තියෙන අතින් වී කොටනකොට සරස් ගාලා සද්දයක් එනවා. අනිත් අතින් වී කොටනකොට සද්දයක් එන්නෙ නෑ, ඊටපස්සෙ රජතුමා ඔතනින් ගිහිල්ලා පොඩ්ඩක් නැවතුනා. නැවතිලා ඒ ගෑණු ළමයාගෙන් අහනවා දුව මොකද ඔය වී කොටද්දි සද්දෙ එන්නෙ. කිව්වා, රජතුමනි වළලු දෙකක් තියෙනකොට සද්දෙ එනවා. එක වළල්ලක් තියෙනකොට සද්දෙ එන්නෑ, ඔබවහන්සේත් තනියෙන් යන්න. මේ බිසවුන් වහන්සේ එක්ක මොන තපස් රැකිල්ලක්ද කියලා ඇහුවා. ඊටපස්සෙ කිව්වා මේ බලන්න පොඩි අයත් මට නිග්‍රහ කරනවා, සීවලී යන්න මෙතනින් කියලා. ඊටපස්සෙ ඒත් නෑ පිටිපස්සෙන් එනවා. කොහොමද මහණ වෙන්න ගිහිල්ලා තියෙන හැටි සංසාරේ. ඊටපස්සෙ ඔතනින් ආපහු මහණ වෙන්න යනවා. එහෙම යනකොට ඉදිරියේ එක වඩු කර්මාන්ත කරන කෙනෙක් කම්හලක ඊතලයක් නමලා කෙලින් කරනවා එක ඇහැකින් බලාගෙන. ඊටපස්සෙ එතනත් නැවතුනා රජ්ජුරුවෝ. ඔබ මොකක්ද කරන්නෙ ඇහුවා. ඊටපස්සෙ කිව්වා මේ ඊතලය කෙලින් කරනවා. මේ එක ඇහැකින් බැලුවොත් තමයි කිව්වා මේක හරියට කරන්න පුලුවන්. ඇස් දෙකින්ම

බලලා බෑ කිව්වා. ඒ නිසා රජතුමනි ඔබතුමත් තපසට යනකොට තනියෙන් යන්න කිව්වා මේ දේවීන් වහන්සේලා මොකද මෙච්චර පිරිසක් කියලා ඇහුවා. ඊටපස්සෙ කිව්ව දේවී මේ බලන්න, ඔබ මෙතනින් යන්න. ඒත් හරියන්නෑ, ඊටපස්සෙ එහේම ඉදිරියට ගිහිල්ලා තව ඉදිරියට යනකොට එක වෙලාවක දැන් එනවා එනවා ඉවරයක් නැනෙ. ඊටපස්සෙ තණකොළ ටිකක් පොළොවෙන් කඩලා මහා බෝධිසත්ත්වයෝ කිව්වා මේ තණකොළ ටික ආයෙ තිබ්බ විදියට මං කොළ කඩපු තැන ඇළුණත් මං දේවී උඹලත් එක්ක ආයෙ ඇලෙන් නෑ කිව්වා. මං ගිහි ජීවිතේ අත්හැරපු කෙනෙක් කිව්වා. ආයෙ මෙතනින් එහාට එන්න එපා. නැගණිය මෙතනින් පලයන් කිව්වා. එතකොට බිරිඳට නැගණිය කියලා කිව්වොත් ඒ කාලේ ඒක පුදුම දුරස්ථ බවක් විදියට තේරෙනවා කියලා කියන්නෙ. ඊටපස්සෙ අත්හැරියා. එහෙම කියලා මේ තණකොළ ටික බිමට දාපු ගමන් බෝධිසත්ත්වයන්ගේ තේජසට එහෙම්මම සීවලී දේවියට කලන්තෙ හැදිලා වැටුනා. ඒ කලන්තෙ හැදිලා වැටිච්ච අතරේ ඉක්මණට මහා බෝධිසත්ත්වයෝ ගියා කැලේ අතරින් මං අරගෙන හිමාලෙ පැත්තට ගියා. දැන් දේවියට සිහිය ආවා ටික වේලාවකින්. කෝ මාගේ රජතුමා කිව්වා. අනේ ගියා කොහෙන් ගියාද දන්නෑ හොයාගන්න බැරිවුනා කිව්වා. මාගේ ස්වාමියා අවසානෙට මං දුටුවේ මෙතන කියලා එතන චෛත්‍යයක් හැදුවා. මාගේ ස්වාමියා නැවතුනේ මෙතන කියලා අර කම්මල ළඟ චෛත්‍යයක් හැදුවා. මාගේ ස්වාමියා නැවතුනේ මෙතන කියලා අර කුමාරිකාව වී කොටපු තැන චෛත්‍යයක් හැදුවා. අර බල්ලා මස් කෑල්ල ගෙනල්ලා දාපු තැන චෛත්‍යයක් හැදුවා. තාපසයින් වහන්සේලා මුණ ගැහිච්ච තැන චෛත්‍යයක් හැදුවා. ඒ මාවත ඒ විදියට චෛත්‍යයක් හැදුවා. ඒ දේවීන් වහන්සේ වියෝව දරාගන්න බැරිව යොදුන් හැටක් ඒ විදියට දුර ගිහිල්ලා තියෙනවා. කිලෝමීටර් හයසීයක් ගිහිල්ලා. ඊටපස්සෙ ඒ දේවීන් වහන්සේ ආපහු මාළිගාවට ඇවිල්ලා පුතාට රජකම දීලා තමනුත් කෙස් බාලා මහණ වෙනවා. ඒ දේවිය යශෝධරා. ඔය විදියටම ජීවිතේ අත්හැරලා තියෙනවා අසංඛෙය්‍ය අප්‍රමාණ වාරයක්. ඔය එක කල්පයක් ඇතුලතනෙ. අසංඛෙය්‍ය අප්‍රමාණ වාරයක් ගිහිජීවිතේ ඒ විදියට අත්හැරලා තියෙනවා. මහාබෝධිසත්ත්වයෝ ආශ්චර්‍යයි අද්භූතයි. ඒ විදියට අපේ බුදුරජාණන් වහන්සේ කාමය අත්හැරියේ, රජකම අත්හැරියේ. දැන් සුසීම ජාතකයේ තියෙනවා ඒත් සීවලී බිසවුන් වහන්සේ යශෝධරාව ඒ කාලෙ වියපත් කෙනෙක්. ගොඩාක් වයෝවෘද්ධයි. රජතුමාගේ මව් තනතුරේ හිටියේ. එතකොට ඒ රටේ ඒ පුරෝහිතයාගේ පුත්‍රයෙක් හිටියා සුසීම කියලා. ඒ සුසීම

කියන තරුණ පුතා රජතුමත් එක්ක ඉන්නවා දැකලා චාරිකාවේ වඩිනවා දැකලා අර මහ බිසවුන් වහන්සේට සංසාරේ උපනූපන් ජීවිතේ ස්වාමියා වේවා කියලා පතපු ප්‍රාර්ථනාවක් තියෙනවානේ යශෝධරාවට. ඒ නිසා එකපාරටම හිත ඇදිලා ගියා. ඇදිලා ගිහිල්ලා ඒක කියාගන්න බැරිව, දැන් කිවයුතු දෙයක් නෙවේනෙ ඒක. කියාගන්න බැරිව ලෙඩවුනා. ලෙඩවෙලා ලෙඩ ඇඳට වෙලා වාසය කරනවා. ලෙඩවෙලා ලෙඩඇඳට වෙලා වාසය කරද්දි රජතුමා මොකද කලේ තමන්ගේ බිසව හරහා අම්මා ලෙඩවෙන්න හේතුව ඇහුවා. විස්තරේ කිව්වා අර රාජ කුමාරයට හිත ගිහිල්ලා කියලා. සුසීම කුමාරයා ගෙන්නුවා. සුසීම කුමාරයා ගෙන්නලා මේ කරුණු කාරණා කියලා මව් බිසවගේ ජීවිතය බේරගන්න ඕන ඒ නිසා ඔබ ඈ විවාහ කරගන්න කියලා විවාහ කෙරෙව්වා. රජකමත් දුන්නා. දැන් ඔහොම ටික දොහක් ඉන්නකොට දැන් මේක අර කැමැත්තෙන් සිද්ධ වෙච්ච එකක් නෙවේනෙ. ඒ නිසා හැම වෙලාවෙම අර රාජ කුමාරයා, සුසීම කුමාරයා හිත හිතා ඉන්නෙ නොඇල්මක් ගැන. ඊටපස්සෙ අර මහබිසවුන් වහන්සේ කල්පනා කලා මගේ හිසේ කෙස් සුදු වෙලා නිසා මෙයා තරුණකමත් එක්ක තමයි මාත් එක්ක එච්චර ඇලෙන්නැත්තේ කියලා, ඒ කුමාරයාගේ සුසීම කුමාරයාගේ කොණ්ඩේ පීරද්දී තමන්ගේ කොණ්ඩෙන් ඉදිච්ච කෙස්ගහක් කැඩුවා. කඩලා කුමාරයාගේ කොණ්ඩෙත් පොඩ්ඩක් අදින විදියට මෙහෙම කරලා පෙන්නුවා මෙන්න මගේ විතරක්යෑ කොණ්ඩෙ සුදු වෙලා තියෙන්නෙ, ඔයාගෙත් සුදු වෙලානෙ කියලා. ඊටපස්සෙ අර කුමාරයා ඒක අරන් කල්පනා කලා, හත්දෙයියනේ දැන් මං නාකි වෙලා. මේ හිසේ කෙස් ගහක් පැහුනා කියන්නේ උඹ මැරෙන්න ළඟයි කියලා ආපු දේවදූතයෙක්. ඒ නිසා මම මේ රජකම මොකටද. දේවී මං දැන්ම පැවිද්දට යනවා කියලා ගිහිගෙය අත්හැරියා. ඊටපස්සෙ කිව්වා නෑ නෑ රජතුමනි ඔබගේ කෙස් ගහක් නෙවෙයි ඕක මගේ කෙස් ගහක්. නෑ නෑ ඔබ මාව නවත්වගන්න කියන කාරණා. මං දැන්ම යනවා කියලා අර ඒ නිමිත්තට ඒකෙන් ගිහි ජීවිතය අත්හැරියානෙ. ඔය විදියට කෙස් ගහක් පැහෙනවා දැකලාම ගිහිජීවිතේ අත්හැරපු වාර අනන්තයි අප්‍රමාණයි. තමන්ගේ පවුල් පිටින් ගිහිල්ලා මහණ වෙච්චි ජීවිත අනන්තයි අප්‍රමාණයි. ඊළඟට අකිත්ති තාපසයා වෙලා ඒ තමන්ගේ මහාසාර ධනවස්තුව අත්හැරලා පැවිදි වෙච්ච ජීවිත අනන්තයි අප්‍රමාණයි. ඒ පැවිදි ජීවිතේ කොච්චර නික්ලේශීද කියනවා නම් සමහර වෙලාවට ගිහිජීවිතේ අත්හැරලා ගිහිල්ලා ලුණු පොඩ්ඩක් වත් ආයෙ ළඟ තියාගෙන නෑ. එහෙම තියෙනවා. ලුණු ඩිංගිත්තක්වත් ළඟ තියාගෙන නෑ. ඊටපස්සෙ තව තියෙනවා අනනුසෝචී

ජාතකය කියලා සම්මිල්හාසිනී කියලා කුමාරිකාවක් එක්ක මේ බ්‍රාහ්මණ කුමාරයා විවාහ වෙන්නෙ, දෙන්නම බ්‍රහ්ම ලෝකෙ ඉඳලා ආපු අය. කාමයේ විරාගීයි. නමුත් ගෙවල්වල බල කිරීමට මහණ වුනා. අවුරුදු දහස් ගාණක් එක ඇඳේ වාසය කලා බ්‍රහ්මචාරීව. දෙමව්පියන්ගේ වියෝවෙන් පස්සෙ දෙන්නම පැවිදි වෙන්න ගියා. පැවිදි වෙන්න ගිහිල්ලා මහා වනයේ දැන් දෙන්නම තපස් රකිනවා. ඊටපස්සෙ ලුණුඇඹුල් හොයන්න මේ දෙන්නා, මේ තාපසයින් වහන්සේයි තාපසියයි මනුස්ස ලෝකෙට, මිනිස්සුන්ගේ වාසයට එනවා. ඒ මිනිස්සුන්ගේ වාසයට ඇවිල්ලා මිනිස්සුන්ගේ වාසය තියෙන අම්බලමක දෙන්නා නවතිනවා. ඒ අතරතුර ඒ සම්මිල්හාසිනී තාපසියට බඩේ කැක්කුමක් ඇතිවෙනවා. ඉතින් රාත්‍රියේ ඇතිවුනේ, ඊටපස්සෙ කිව්වා බඩේ කැක්කුම ඉතින් ඉවසන්න. දැන් හෙට උදේනෙ අපි පිණ්ඩපාතෙ වඩින්නෙ, බෙහෙතක් හම්බුනොත් ගේන්නම් කියලා. නිහඬව හිටියා. ඇට ඒ වුනාට වේදනාව දරාගන්න බෑ. ඊටපස්සෙ මොකද වුනේ උදේ පාන්දර ඔන්න පිණ්ඩපාතෙ ගියා, ඔබ මේ අම්බලමේ ඉන්න කියලා තාපසයා. පිණ්ඩපාතෙ යන අතරේ අර සම්මිල්හාසිනී තාපසියට ජීවිතේ ඒ වේදනාව දරාගන්න බැරිව ඒ අම්බලමේ මැරුණා. එතකොට ඔතනින් කටයුතු වලට මිනිස්සු යනවා. දැක්කා රත්තරන් රූපයක් වාගේ කෙනෙක් වැටිලා ඉන්නවා. ඊටපස්සෙ මිනිස්සු කල්පනා කලා අම්මෝ මේ වාගේ මියගිහිල්ලා ඉද්දි මෙච්චර ලස්සනයි නම් මේ වාගේ ලස්සන උතුම් තාපසියක් එක්ක පණ පිටින් කතා කරන්න බැරිවුනානේ කියලා මිනිස්සු කෙහෙවළු කඩාගෙන ඇඬුවා කියනවා. ඉතින් තාපසයින් වහන්සේ පිණ්ඩපාතෙත් අරන් බෙහෙතුත් අරන් එනවා. එනකොට මැරිලා තාපසියන් වහන්සේ. ඒ බංකුවෙම අනිත් පැත්තෙ ඉඳගෙන දානෙ වැළඳනවා. එතකොට මිනිස්සු ඇහුවා මේ ඔබගේ ඇඳුමුයි මෙයාගෙ ඇඳුමුයි එක වාගේ. කවුද මේ කිව්වා. ඊටපස්සෙ කිව්වා අපි මේ එකට තපස් රකින අය. කලින් මගේ බිරිඳ වෙලා ඉඳලා තියෙනවා කිව්වා. ඊටපස්සෙ ඔබට දුක නැද්ද කියලා ඇහුවා. ඊටපස්සෙ කිව්වා මැරිච්ච කෙනෙක් වෙනුවෙන් ඇඬුවා කියලා එයාට ඇහෙන්නෙත් නෑ, පේන්නෙත් නෑ, උපන් සත්ත්වයා ඔහොම තමයි කිව්වා. හිතාගන්න පුලුවන්ද ඒ අත්හැරීම. පුදුම විදියට අත්හැරලා තියෙන්නෙ. ඔය විදියට එකට තපස් රැකලත්, එක ළඟ ඉඳලත් ඇලෙන්නැතිව ඉඳලා තියෙනවා. නෙක්ඛම්මය කොහොමද මහා බෝධිසත්ත්වයන්ගේ. ඔය වාගේ ජීවිත අසංඛෙය්‍ය අප්‍රමාණ ප්‍රමාණයක් තපස් රැකලා තියෙනවා. කාමය අත්හැරලා තියෙනවා. ඊටපස්සෙ එක ජීවිතයක තව තියෙනවා මෙයා සල්ලාලයෙක් වෙලා

දැන්. ඒ කියන්නෙ රාජ කුමාරයෙක්, හැමදාම ගණිකාවක් ළඟට යනවා. ඊටපස්සෙ ඒ සකල සේසතම ඒ ගණිකාවට තමයි දෙන්නෙ. දවසක් රාජසභාවේ කටයුතු ඉවර වෙලා එනකොට රාත්‍රිය වුනා. ගෙදර ගිහිල්ලා ධනය ගේන්න විදියක් නෑ. ආයෙ අර ගණිකා මඩමට ගියා. යනකොට දොරටුව ළඟම අෑ හිනාවේගෙන ඉන්නවා. ඊටපස්සෙ කිව්වා කෝ කියලා. වෙනදා අත දික්කරනකොටම වෙනම දහසින් බැඳි පියල්ල අතේ තියනවා. එදා නෑ. ඊටපස්සෙ කිව්වා ආ යංකෝ, අදනම් ගෙනාවෙ නෑ, හෙට දෙන්නම් කියලා. ඊටපස්සෙ කිව්වා මේ ගණිකාව කල්පනා කලා, එක දවසක් පොඩි ලිහිල් බවක් දුන්නොත් එහෙම ඊළඟ දවසෙත් පස්සෙ දෙන්නම් කියන කතාවට එනවා. ඉතින් ඒ නිසා ඊට වැඩිය හොඳයි මේ නියපොත්තෙන් කඩා ගන්න තියෙන දේ පොරොවෙන් කොටන්න තියාගන්න හොඳ නෑ කියලා, කිව්වා මේ ඒවා බෑ, අද හෙට කතා නෑ කිව්වා. ඉස්සෙල්ලා කහවණු දෙන්න කිව්වා. ඊටපස්සෙ කිව්වා නෑ නෑ අද මං රාජ මාළිගාවෙ ඉඳලා ඉන්නෙ, කහවණු හෙට දෙගුණයක් දෙන්නම් උඹට කියලා. ඊටපස්සෙ කිව්වා එහෙම නෑ කියලා. අනේ එහෙම කියන්න එපා, මං දැන් අවුරුදු කීයක් මෙතනට එනවද හැමදාම. ඒවා කතාවක් නෑ කිව්වා කහවණු ඕන කිව්වා. ඊටපස්සෙ තව අනිත් කෙල්ලන්ට කතා කරලා කිව්වා මේකා ඇදලා දාපං එළියට කියලා. අර කෙල්ලො ටික ඇවිල්ලා මෙයාව උස්සලා දැම්මා එළියට. ඊටපස්සෙ කළකිරුණා. තිත්ත වුනා. මෙහෙමත් ගෑණු ජාතියක් කියලා. මෙච්චර කාලයක් කහවණු දිදී අවුරුදු ගාණක් මෙතෙන්ට ආවා. මේ එක දවසක් ගෙනාපු නැති දවසට මේ ගෑණි මෙහෙම කලානෙ මට. තිත්තම වුනා. කාමයත් තිත්ත වුනා, ස්ත්‍රීනුත් තිත්ත වුනා, අප්පිරියා වුනා. එහෙම්මම හැරිලා ගියා මහාවනයට. මහාවනයට ගිහිල්ලා එහෙම්මම වනයේම සීලය අධිෂ්ටාන කරගෙන තපස් රැක්කා. බලන්න කාමය එපා වීම, ඇත්තටම අත්හැරීම, කොච්චර සල්ලාල වෙලා හිටියත් අවංක සිතින් අත්හැරපු නිසා තාපසයෙක් වුනාට පස්සෙ හොඳට ධ්‍යාන පිහිටියා. ආකාශයෙන් යන කෙනෙක් දැන්. රජතුමා තමන්ගෙ යාළුවන් නැතිව ගොඩක් මේවා වුනා. ඊටපස්සෙ ආරංචි වුනා අර ගණිකාව මෙහෙම කලා කියලා. ගණිකාව කැඳවලා කිව්වා උඹගේ හත්මුතු පරම්පරාවම නැතිකරනවා, අරන් වරෙන් කුමාරයාව ගිහිල්ලා කියලා. ඉතින් ඒ කාන්තාව කැලේ හොයලා හොයලා හොයලා ගිහිල්ලා අර තාපසයින් වහන්සේ ළඟට යනවා. තාපසයින් වහන්සේ ආකාශෙ ඉඳලා කිව්වා එම්බා ස්ත්‍රිය, උඹලා දැනගනින් කිව්වා, දැන් උඹලාගේ ඇඟේපතේ හයිය තියෙද්දින් අනෙත් අය වැළඳගන්නවා කිව්වා. අනෙත් අය තමන්ගේ

වසඟයට ගන්නවා කිව්වා. උඹලටම යම් දවසක් එනවා කිව්වා තමන්ගේ අතට හැරමිටිය අරගන්න බැරි කාලයක් එනවා කිව්වා. මිනිස්සු වසඟ කරපු උඹලට හැරමිටියක් තමන්ගේ අතින් අල්ලගන්න බැරි කාලයක් එනවා කිව්වා. වෙව්ල වෙව්ලා යන. ජීවිතේ ගැන ඇත්ත දැකපන් කිව්වා. දැන් පලයන් යන්න මෙතනින් කිව්වා. පන්න ගත්තා. කොහොමද කාමය අත්හැරීම. එතකොට ඕනම කෙනෙකුට වැරදුනත් තමන්ට වැරදිච්ච බව හරියට දැනගෙන මේ කාමය ගැන අප්පිරියාවක් ඇතිකර ගන්නවා නම් එයාට නිවන් දකින්න අර තමන්ගේ කලින් වෙච්චි වැරදි බාධාවක් වෙන්නෑ. ඒ නිසා ඔබත් දැන් ඔබගේ, මේ විදියට කතා ගොඩාක් තියෙනවා පින්වතුනි, ගොඩාක් කතා තියෙනවා, මං ඒකනේ කිව්වේ ජාතක කතා පන්සිය ගාණෙන් හාරසියක් විතරම තියෙන්නෙ ගිහි ජීවිතේ අත්හැරපු ඒවා. නෙක්ඛම්ම පාරමිතාව. නෙක්ඛම්මය කියන්නෙ කාමය අත්හරිනවා. බැඳීම් අත්හරිනවා. එතකොට අද කාලෙ සමහර අය ඉන්නවා ගෙවල් වලටම වෙලා අත්හැර ගන්න බෑ. එතකොට පින්වතුනි නෙක්ඛම්මයක් කියලා එකක් පුරුදු කරන්න. එතකොට ගෘහයෙන් ඈත් වෙලා ටික දොහක් ඉන්න එක, ඊළඟට මේ බැඳීම් වලින් ඈත් වෙලා ටික කාලයක් ඉන්න එක, ඒවා පුරුදු වෙන්න ඕන. නෙක්ඛම්මය කියන එක පොඩ්ඩකට හරි, මේ කාමයටම බැඳිලා ඉන්නෙ නැතිව. බුදුරජාණන් වහන්සේගේ උතුම් සම්බුදු ජීවිතයට උපහාරයක් පිණිස වත්. උන්වහන්සේ ගිහි බන්ධන, ගෘහ බන්ධන, මේ බැඳීම් අත්හැරලා පැවිදි ජීවිත වලට පත්වුන, කාමය අත්හැරපු ජීවිතම අනන්තයි අප්‍රමාණයි. එහෙම තියෙද්දින් මහා බෝධිසත්ත්ව කාලේ යශෝධරා රාහුලයන් අත්හැරලා යන එක සුලු දෙයක්නෙ. අච්චර සංසාරෙ අත්හැරපු අත්හැරීම් එක්ක. මහා විශාල, ඒ ජාතක කතාවල අවසානෙට මං දැක්කා තියෙනවා, මට කාමය එහෙම අප්‍රියයි නෙවෙයි කියනවා, ඒ කාමය මට ප්‍රිය වෙලා තිබ්බා කියනවා. දෙමව්පියො අප්‍රිය නෑ කියනවා දෙමව්පියො ප්‍රිය වෙලා තිබ්බා කියනවා. ඊළඟට අඹුදරුවො අප්‍රිය නෑ කියනවා, අඹුදරුවො ප්‍රියයි කියනවා. නමුත් මට ඊටත් වැඩිය ලොව්තුරා සම්බුදු බව ප්‍රිය නිසා සම්බුදු බව පතාගෙනම මේවා අත්හැරියා කියනවා. ඒ කියන්නෙ කෙනෙක් මහණ වෙන්නෙ දෙමව්පියන්ට ආදරේ නැතිව නෙවෙයි. අඹුදරුවන්ට ආදරේ නැතිව නෙවෙයි, ගෙවල්වලට ආදරේ නැතිව නෙවෙයි මහණ වෙන්න එන්නෙ. මහණ වෙන්න එන්නෙ මේ දුකින් නිදහස් වෙන්න. මේ සංසාර දුක, දැන් බලන්න අද කාලෙ ගත්තොත් එහෙම දෙයියනේ මැරෙන මැරිල්ල. මිනී කඳු පිටින් මැරෙන විදිය. උගරො කුකුළො වගේ වළේ දාන්නෙ ඒ රටවල් වල. ලොරිවලින් ගිහිල්ලා

එහෙම්මම මිනී කඳන් බානවා. ඔහොම පුච්චනවා. පාන් පුච්චනවා වාගේ පුච්චන්නෙ මිනී. ඇත්තටම මිනිස්සුන්ට කළකිරීමක් ඇතිවෙන්නෑනෙ මේක පුදුම වැඩේනෙ. පවුල් පිටින් මිනිස්සු මැරිලා යනවා. සල්ලි වලින් මොනවද කරන්නෙ. මිනිස්සු සල්ලි පාරට විසික්කා කරනවා. සල්ලි පෙන්න පෙන්නා කියනවා අපිට පුලුවන්නම් මෙච්චර ගාණක් අරන් අපේ ජීවිතේ බේරන්න කියලා. සල්ලි තියෙන මිනිස්සු පාරට ඇවිල්ලා අත්දෙක දික් කරගෙන ඉන්නවා. මිනී කනත්තක් මැද වාගෙ මිනිස්සු ඉන්නෙ පිටරවල්වල. දැන් ඇමරිකාවෙ මිනිස්සු දහස් ගාණක් එක දිගට මැරෙනකොට මොකක්ද විසඳුම. වයසක මිනිස්සු ගැන ගණන් ගන්නෙවත් නෑ, පණ ඇද ඇද තරුණයෙකුයි වයසක කෙනෙකුයි ඉද්දි වයසක කෙනා අයිනක දාලා අනිත් තරුණයා ඇතුලට ගන්නවා. එතකොට ඒවා දකින ඒවා පේන මිනිස්සු කොච්චර සාප කර කරද මැරෙන්නෙ. දැන් බලන්න විද්‍යාවෙන් තාක්ෂණයෙන් දැනුමෙන් දියුණු ඒ වගේ සසර ප්‍රශ්න විසඳන්න පුලුවන්ද කියලා. ඔය වාගේ කොච්චර දුක් කන්දරා එයිද. මේවා දැක දැකත් මේ කාමයට ප්‍රේත වෙලා ඉන්නවා කියන එක අන්ධ බාල අසත්පුරුෂ පෘථග්ජන බවම තමයි. මෙච්චර මිනී ගොඩ දැක දැක, මෙච්චර ව්‍යසන දැක දැක, මෙච්චර ශෝක දැක දැක, මෙච්චර මිනිස්සුන්ගේ කඳුළු දැක දැක, මෙච්චර මනුස්ස ලෝකෙ දුක දැක දැකත් ආයෙත් හිත රාගයටම වැටෙනවා. ආයෙත් හිත ද්වේෂයෙන්ම පිච්චෙනවා. ඒවා දැක දැක ගෙවල් වල රණ්ඩු වෙනවා. ගමේ රණ්ඩු වෙනවා. මේ මිනිස්සුන්ට මෙච්චර නස්පැත්තියක් වෙලා තියෙද්දිත් මිනිස්සුන්ට කාමය අත්හරිනවා තියා අද කාලේ ජීවිතේ වත් මොහොතක් තේරුම් ගන්න අවස්ථාවක් නැති එක ගැන නම් හරිම කණගාටුයි. ඉතින් ඒ නිසා පින්වතුනි සමහර අයට තියෙනවා, හොඳට නුවණ තියෙනවා. මේවා දැක්ක ගමන්ම කළකිරෙනවා. වෛද්‍යවරු අසරණයි. අපිට ගොඩාක් කරුණු කියන්න සිද්ධ වුනා වෛද්‍යවරුන්ට ගුණ කිය කියා. මොකද වෛද්‍යවරු ලෙඩ්ඩු එද්දි අසරණ වුනා. මොකද කරන්නෙ එයාලගේ ජීවිතෙත් එක්ක එයාලා තීරණ ගන්න බය වුනා. පිටරටවල් වල ලංකාවෙන් ආපු ආසියාතික වෛද්‍යවරු ඉස්සරහට දාලා බටහිර වෛද්‍යවරු ගෙවල්වල නැවතුනා. බිල්ලට දුන්නා වෛද්‍යවරු ටික. ඊටපස්සෙ සමහර තැන්වල මුඛවාඩම් දාගන්නත් දෙන්නෙ නෑ, කොච්චර නම් අපිට කෝල් කරලා මිනිස්සු කියලා තියෙනවාද මොකක්ද හාමුදුරුවනේ අපි ඊළඟට ගන්න තීරණේ කියලා. මේවා දැක දැක මේ සුද්දන්ගේ හමටත් මිනිස්සු පෙරේත කර කර ඉන්නවානෙ. සුද්දන්ගේ ලෝකෙ ගොඩනැගිලි වලට, සුද්දන්ගේ ලෝකෙ කන බොන ඒවට, පෙරේතකම් කර කර

ඉන්නවානෙ. මේ අහිංසක මේ ආනුභාව සම්පන්න පින්වන්ත මේ රටේ මහා සෑය මහාබෝධිය වැඳගෙන පින් කරලා මේ තව කීදොහක්ද අපේ ජීවිතේට තියෙන්නෙ. ඒ නිසා මේ රටේ නේද නෙක්ඛම්මය කියන එක තියෙන්නෙ. බටහිර රටවල් වල නෙක්ඛම්මය කියලා එකක් තියෙනවාද. කලාතුරකින් එක්කෙනෙක් දෙන්නෙක් පින තියෙන අය ඒවා අත්හැරලා විමුක්තිය හොයාගෙන යන අවස්ථා තියෙනවා. ඉතින් ඒ නිසා මේ නෙක්ඛම්මය කියන එක පින්වතුනි පාරමිතාවක්. ඒ පාරමිතාව ඉහළටම පිරුවා ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. ඒක නෙක්ඛම්ම පාරමිතා. ඒ අපේ බුදුරජාණන් වහන්සේ තරම් මේ වෙනකොට අපේ බුදුරජාණන් වහන්සේ තරම් නෙක්ඛම්මය පුරුදු කරපු කෙනෙක් මේ තුන්ලෝක ධාතුවේම නෑ. මෛත්‍රී බුදුරජාණන් වහන්සේටත් තවත් පුරුදු කරන්න එක නෙක්ඛම්මයක් තියෙනවා අභිනිෂ්ක්‍රමණය නම් වූ. අපේ තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේ සියල්ල සම්පූර්ණ කරලා ඉවරයි. ඒ නිසා ඒ කාම ජීවිත අත්හැරපු, ගෙවල් අත්හැරපු පැවිද්ද පිණිසම ජීවිතය පුදපු, කාමය අලුයම ලූ කෙළපිඬක් සේ අතහැරලා ගියපු බුදුරජාණන් වහන්සේ සරණ යන්න, මුළු හදවතින්ම සරණ යන්න. දිවි හිමියෙන් සරණ යන්න. නිවන් දකින මොහොත දක්වා සරණ යන්න. ඔබ කාමයට ආසයි නම් ගෙවල් වලට ආසයි නම්, බැඳීම් වැඩියි නම්, ඔබට ඔය කෙලෙස් වලින් මිදෙන්න තියෙන එකම පියවර ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ යන එක. මේ උත්තමයන් වහන්සේගේ තේජසට කාමය හිතින් අත්හැරෙනවා ඊටපස්සෙ. ඒ නිසා ඔබටත් අපි කාටත් මුලු හදවතින්ම නිවන් දකින තුරු උතුම් සම්බුදු සරණම වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දැරුවේ, කර්මය කියන නමින් වට්ස්ඇප් එකමුතුවේ ඉන්න කල්‍යාණමිත්‍ර පිරිස විසින්. පළමුවෙන්ම අපි සෙත් ප්‍රාර්ථනා කරමු මේ පින් බලයෙන් බුදුරජාණන් වහන්සේගේ අනන්ත නෛෂ්කර්මයේ පුණ්‍යානුභාව බලයෙන්, තේජානුභාව බලයෙන්, සම්බුදු ගුණ බලයෙන්, රුවන්වැලි සෑය, ජයශ්‍රීමහා බෝධීන් වහන්සේගේ තුණුරුවන්ගේ ආනුභාව බලයෙන්, දෙවියන්ගේ දිව්‍ය උපකාරයෙන්, මේ මනුස්ස වර්ගයාට, ලෝක වර්ගයාට, ලෝකයට මනුස්ස වර්ගයාට ඒ වගේම අපේ ලක්දෙරණට ව්‍යසනයක් වුනු මේ කොරෝනා වසංගතය මේ මිහිමඬලින් තුරන් වේවා, ලෝකයටත් මනුස්ස වර්ගයාටත් සියලු නිදුක් නිරෝගී සැප රැකවරණ සැලසේවා කියලා අපි පළමුවෙන්ම සෙත්

ප්‍රාර්ථනා කරමු. ඒ වගේම සියලු දෙවියන්ට මේ පින් අනුමෝදන් වේවා, දෙවියෝ මේ පින්වතුනි සියලු දෙනා දැහැමින් ආරක්ෂා කරත්වා කියලා අපි දෙවියන්ට පින් දෙමු. ඒ වාගේම මිය පරලොව ගිය ටී.එල්.ආරියදාස පියාණන්ට, කේ.ජී. ප්‍රදීප් උදයකුමාර පියාණන්ට, ජී.ඩබ්. ලින්ටන් බන්දුල පියාණන්ට, නාලනී විජේතුංග මෑණියන්ට පින් අනුමෝදන් කරමු. මියපරලොව ගිය සියලුම ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා කියලා අපි පින් අනුමෝදන් කරනවා. පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන් වේවා. ඇත්තටම අපිටත් මේවා, මේ නෛෂ්කර්මය ගැන අහනකොට සතුටක් ඇතිවෙනවා අපිටත් මේ ජීවිතේ නෙක්ඛම්මයක් යම් විදියකට ගිහිජීවිතේ අත්හැරලා පැවිදි වෙන්න හරි ලැබුනානේ කියලා. එතකොට ඒක අපිට ලැබුනේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා. ඇත්තටම ලොකු ස්වාමීන් වහන්සේ පහළ වෙලා ලොකු ස්වාමීන් වහන්සේ මේ විදියට ධර්මය දේශනා නොකළා නම් අපි මෙච්චර පිරිසක් මෙහෙම මහණ වෙන්නෑ. ඉතින් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා. පරම පූජනීය ගුරු දේවෝත්තම ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සඟරුවනට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට නෙක්ඛම්මය පුරුදු කරන සියලු දෙනාට ගෞතම සසුනේ ධර්මාවබෝධය වේවා කියලා අපි පින් පමුණුවනවා. ඒ වාගේම කර්මය නමින් තියෙන වට්ස්ඇප් එකමුතුවේ කල්‍යාණමිත්‍ර සියලු දෙනාට පින් අනුමෝදන් වේවා. දැනට කරාපිටිය රෝහලේ දැඩි සත්කාර ඒකකයේ ප්‍රතිකාර ලබමින් සිටින ප්‍රේමරත්න වේරගොඩ පියාණන්ට ඉක්මණින් නිරෝගී සුව සැලසේවා. රෝගාතුරව සිටින නන්දාවතී බස්නායක ආච්චි අම්මාට ඉක්මණින් නිරෝගී සුව සැලසේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, ඒ වාගේම කල්‍යාණමිත්‍ර ඇසුර සලසන චන්දන ජයලත් ගුරු පියාණන්ට මේ පින් අනුමෝදන් වී එතුමාට මේ පින් බලයෙන් සත්පුරුෂ ඇසුර, ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම සහන් දෙව්මිත් ඇතුළු සියලුම කල්‍යාණමිත්‍ර සියලු දෙනාට පින් අනුමෝදන් වේවා. ඒ වගේම කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරව සිටින ලක්වැසි ලෝවැසි සියලු දෙනාට ඉක්මණින් නිදුක් නිරෝගී සුව සැලසේවා කියලා පින් පමුණුවනවා. මව් දෙමව්පිය ඥාතී බන්ධුමිත්‍රාදීන් සියලු දෙනාටත්, ඒ වාගේම ගුරුවරුන්ටත් සියලු දෙනාට පින් අනුමෝදන් වේවා. මේ ධර්මය ශ්‍රවණය කරන සියලු දෙනාට, ලක්විරු ගුවන් විදුලිය, ශ්‍රද්ධා රූපවාහිනිය ධර්ම දාන පවත්වන, කාර්ය

මණ්ඩලයේ ඒ සියලු දෙනාට පින් සිදු වේවා. අපි කාටත් අපේ හිත් තුල නෙක්ඛම්ම සංකල්පනාව පුරුදු කරගැනීම පිණිස අනන්ත අපරිමාණ නෙක්ඛම්ම පාරමිතාව පිරූ බුදුරජාණන් වහන්සේගේ සම්බුදු දිවියේ අසිරියෙන් උතුම් අසිරිමත් සම්බුදු සරණේ අනුහසින් අපි සියලු දෙනාට ගෞතම බුදු සසුනේ නෙක්ඛම්ම සිතිවිලි පුරුදු කරලා මේ කාම ලෝකයෙන් හිත මෑත් කරගෙන හිත පවිත්‍ර කරගන්න වාසනාව ලැබේවා, නිවනින් සැනසෙන්වා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=Ryfk1ZsvhQY&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=9

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් අපි සරණ ගිය අපගේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ගුණ කඳ, පිරූ පාරමී ධර්මයන් ගුණ ධර්මයන්, ඉන් පරතෙරට පත්වූ බව ඔබ මේ දවස්වල ශ්‍රවණය කරන්නෙ. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකගේ ගුණ කඳ කෙනෙකුට අහන්න ලැබෙනවා නම් ඒක පරම දුර්ලභ දෙයක්. බුද්ධ කියන වචනය පවා ශ්‍රේෂ්ටයි. බුද්ධ කියන වචනය අහන්න ලැබෙනවා පවා ශ්‍රේෂ්ටයි. බුද්ධෝති වචනං සෙට්ඨං බුද්ධෝති පදුමුත්තමං නත්ථි තේන සමං ලෝකෙ අඤ්ඤං සෝතරසායනං, බුදුරජාණන් වහන්සේ

කියන වචනයනේ ශ්‍රේෂ්ට, උත්තම. මේ කණට මිහිරි තවත් වචනයක් තියෙනවාද බුදුරජාණන් වහන්සේ කියන, බුද්ධ කියන වචනය තරම්. ඉතින් ඒ නිසා අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහනින් ඔබට සම්බුදු වරුණ අහන්න සලස්වන්නේ අද දවසේ දායකත්වය දරන්නේ ජනක අමරසිරි, ඒ වගේම තිසායා අමරසිරි, කුමුදු අමරසිරි සහ දිමුතු අමරසිරි යන පින්වත් පිරිස විසින්. මැයි 22 වන දිනට මියපරලොව ගොස් වසර හතක් සපිරෙන මාලිනී සමරවීර මැණියන්ට පින් අනුමෝදන් කරන්න සහ පවුලේ මියගිය ඥාතීන්ට පින් අනුමෝදන් කරන්නටත්, සියලු දෙනාට සෙත් පිණිසත්. අදත් ඔබට අහන්න ලැබෙනවා අපූරු දහම් පරියායක්. අද අහන්න ලැබෙන්නේ ප්‍රඥා පාරමිතාව ගැන. හරිම ලස්සනයි. ප්‍රඥාව තමයි මේ මනුස්සයෙකුට තියෙන ප්‍රඥා නරානං රතනං, මනුස්සයෙකුට තියෙන උතුම්ම මැණික, ප්‍රඥාව. ප්‍රඥාව කියන්නෙ හොඳ නරක තේරුම් ගන්න පුලුවන් බව. කුසල් අකුසල් තේරෙන බව. යහපත අයහපත තේරෙන බව, සේවනය කළ යුතු නොකළ යුතු බව තේරෙන බව. ඊළඟට තව තව ඒ ප්‍රඥාව වැඩි වෙනකොට අනිත්‍යය කියන එක වැටහෙන බව. මේ අසාර ලෝකය ගැන තියෙන වැටහීම. ජීවිතයේ අස්ථිර බව තේරෙන එක. ඉතින් ඒ නිසා මේ කෙලෙස් වලින් නිදහස් වීම සැපයක් බව වැටහෙන එක. ඉතින් මේවා ප්‍රඥාවට අයිතියි. හුදෙක් ප්‍රඥාව මේ ඇස කණ නාසය දිව කය මනස ආදී වූත්, ඒ වගේම රූප වේදනා සංඥා සංකාර ආදී වූත් මේ දුක පිළිබඳව තියෙන අවබෝධය. අනිත්‍යය, දුක්ඛ, අනාත්ම ත්‍රිලක්ෂණය පිළිබඳව තියෙන අවබෝධය. මේ ඔක්කෝටම මේ සමස්ථයම ප්‍රඥාවට අයිති දේ. කුසල් අකුසල් තේරෙන එක, ප්‍රඥාවට අයිතියි. පින් පව් තේරෙන එක, හොඳ නරක ඒ වගේම යම් ඒ ප්‍රඥාවට මහා බෝධිසත්ත්වයෝ සංසාරයේ පුරපු ප්‍රඥා පුණ්‍යස්කන්ධය තමයි යමක් තේරුම් ගන්න ගතිය. ඒ වාගේම යමකට හරියට තීරණයක් දෙන ගතිය. ඊළඟට උපායශීලි බව. මේ වාගේ ගොඩාක් දේවල් වලින් මේ ප්‍රඥාව කියන එක ඔපමට්ටම් වෙනවා. ඇත්තටම ගත්තොත් එක ගමකට එක ප්‍රඥාවන්තයෙක් හිටියොත් ඇති. එක නගරයකට එක ප්‍රඥාවන්තයෙක් හිටියොත් ඇති. එක රටකට එක ප්‍රඥාවන්තයෙක් හිටියොත් ඇති. මුළු රටම ඔහේ ඉඳලා රජා ප්‍රඥාවන්ත වුනත් ඇති. මෝඩයෝ දාහකට වැඩිය එක ප්‍රඥාවන්තයෙක් වටිනවා. එයද පසෙක තැබේවා, මේ මුළු ලෝකයම අන්ධකාරයේ සිටිද්දී තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නැමැති ප්‍රඥාලෝකය පහළ වීමෙන් අන් අයට කොයි තරම් යහපතක් වුනාද. කවුරුත් මුල මැද අග නොදැනගෙන හිටපු සසරක්. ඉතින් බුදුරජාණන්

වහන්සේ, සම්බුදුරජාණන් වහන්සේ නමකට තමයි තුන් ලෝකයේ අනන්ත අපරිමාණ ප්‍රඥා සම්පත්තිය තියෙන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ කොහොමද එවැනි ප්‍රඥාවක් වැඩුවේ. දීපංකර පාද මූලයේ විවරණ ගත් දා පටන් හොඳට නුවණින් කල්පනා කරලා තියෙනවා. නුවණට ප්‍රශංසා කරලා තියෙනවා. නුවණ අගය කරලා තියෙනවා. නුවණ වඩලා තියෙනවා. නුවණැත්තන් සමඟ ඇසුරු කරලා තියෙනවා. නුවණැත්තන්ගෙන් උපදෙස් ලබාගෙන තියෙනවා. මේ සියල්ල මුල් වෙලා තුන්ලෝකෙම කාටවත් නැති ප්‍රඥා සම්පත්තියක් බුදුරජාණන් වහන්සේට හැදුනා. ඒ බුදුරජාණන් වහන්සේ තරම් ප්‍රඥාවක් උපද්දවාගන්නට පාරමී පුරපු, ගුණධර්ම පුරපු වෙන කෙනෙක් මේ තුන් ලෝකධාතුවේම නෑ. ඒ බුදුරජාණන් වහන්සේ විදියට ප්‍රඥාව උපද්දවාගන්න තවත් කෙනෙකුට ළංවෙන්න වත් බෑ, ප්‍රඥා පාරමිතාව, ප්‍රඥා සාගරයේ පරතෙරට පත්වුනා ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. බුදු කෙනෙක්ගේ ප්‍රඥාව ගැන කවර කතාද. බෝධිසත්ත්වයෝ සංසාරයේ පාරමී ධර්මයන්, ප්‍රඥා පාරමී ප්‍රඥා උප පාරමී, ප්‍රඥා පරමත්ථ පාරමී නුවණ මුල් කරගෙන තමාවත් රැකගන්නවා. නුවණ මුල් කරගෙන සියලු දෙනාවත් රැකගන්නවා. නුවණ මුල් කරගෙන මුලු ලෝකයක් රැකගන්නවා. කොච්චර දේවල් කරලා තියෙනවාද නුවණින්. ජාතක කතා කියවලා නැත්නම් මේ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක්, ඒක නම් පුදුම අභාග්‍යයක්. පින්වත් පරමපූජනීය ගුරු දේවෝත්තම ලොකු ස්වාමීන් වහන්සේ සිය ගණනක් ජාතක කතා සරල සිංහලයට පරිවර්තනය කලා. දැන් අපි මේ දේශනාවකට දහම් කරුණක් කියවන්න ජාතක කතා පරිවර්තනයක් කියවනකොට අපිට මේ දේශනාව අමතක වෙලා පොතම කියවෙන්න ගන්නවා. එච්චර මිහිරියි, එච්චර දහම් රසය දැනෙනවා. ජීවිතේ කියන එක තේරුම් ගන්න පුලුවන්. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥාව තේරුම් ගන්න කවුරුත් දන්න ජාතක කතාව තමයි උම්මග්ග ජාතකය. උම්මග්ග ජාතකය තරම් ප්‍රඥාව ගැන සවිස්තරව තියෙන මේ වගේ විස්තරයක් ඔබ කියවලා නැත්නම් හරීම ඔබට පාඩුවක්. ඒ නිසා උම්මග්ග ජාතකය කියවලා නැති අය උම්මග්ග ජාතකය අනිවාර්යයෙන් කියවන්න. ඒ උම්මග්ග ජාතකයේ මහෞෂධ පඬිතුමා පැණ විසඳන හැටි. ගැටළු විසඳන හැටි, තීරණ ගන්න හැටි. හරිම පුදුම සහගතයි. ඊටපස්සෙ ඉතින් ඒ නිසා උම්මග්ග ජාතකය ගැන මම කියන්න යන්නෙ නෑ, උම්මග්ග ජාතකය කවුරුත් දන්න නිසා. ඊටපස්සෙ අපි බලමු තවත් ඔබ අහලා නැති ජාතක කතා ටිකක් කියන්නම්, මේ ප්‍රඥාව පුරපු හැටි තේරුම් ගන්න. අපි කියමු සුචි ජාතකය

ගත්තොත් එහෙම ඉදිකටු හදන ගමක ඉදිකටු හදන කෙනාගේ දුව හරිම ලස්සනයි, රූප ස්වභාවයෙන් යුක්තයි, පැතිරිලා ගියා ගම් හතක ඈගේ රූප සොබාව. එතකොට තවත් ගමක ඉන්නවා ඉදිකටු හදන පවුලක්. ඒ ගමේ හිටපු ඒ තරුණ පුතාට ඈ ගැන අහලා පිළිබඳ සිතක් ඇතිවුනා. ඉතින් මේකට මෙයා නුවණක් පාවිච්චි කලා. ඈව ගැනීම පිණිස නුවණක්. දැන් සාමාන්‍යයෙන් ඒකයි අද කාලෙ නුවණ පාවිච්චි කිරීම කියලා එකක් නැතෙ. දැන් වැඩිය ඕන නෑ, උම්මග්ග ජාතකයේ අමරා දේවිය තෝරගන්න ඒ මහෞෂධ පඬිතුමා පාවිච්චි කරපු නුවණ, ඈ සමඟ එකවර කතා නොකර හස්ත මුද්‍රාවෙන් කතා කරලා, ඊටපස්සෙ ඈ සමඟ ප්‍රඥා භාෂාවෙන් කතා කරලා, ඈව පරීක්ෂා කරලා එහෙමනේ අවසානෙ ගේන්නෙ ඈව මාළිගාවට රැගෙන එන්නෙ. කොච්චර නුවණක්ද. ඒ කාන්තාවක්, බිරිඳක් තෝරාගැනීමේදී. ඊළඟට චූලනීබ්‍රහ්මදත්ත රජතුමා අටලොස් අක්ෂෞහිනියන් සමඟ වේදේහ නුවර වටකරද්දී ඒ මහෞෂධ පඬිතුමා හිටපු රාජධානිය ඒ වටකරගෙන හිටපු මිනිස්සු වැලි අහුර අහුර දැම්මා නම් ඒ නගරය යට වෙනවා කියනවා. එච්චර සේනාවක්. එච්චර සේනාවක් එකෙකුට ජීවිත අන්තරාවක් නැතිව පරදවලා පලාහැරෙව්වානෙ මහෞෂධ පඬිතුමාගේ මොළෙන්. ප්‍රඥාව, සිතාගත නොහැකියි. ඊටපස්සෙ මහෞෂධ පඬිතුමාගේ නුවණ, අපි කියන්න ආවෙ ඒ වාගේ ඉදිකටු හදන ගමේ ළමයා මොකද කලේ, ඉදිකට්ටක් හැදුවා. ඒක අපූරු ඉදිකට්ටක්. ඊටපස්සෙ මේ ඉදිකටුව අරගෙන මෙයා ඉදිකටු ගමේ ඉදිකටු විකුණන්න ගියා. ඉතින් ඒකනේ අනිත් මොළේ. ඉදිකටු හදන ගමට ඉදිකටු විකුණන්න යනවා කියන එක. ඉතින් මිනිස්සු පුදුමෙන් ඇහුවා උඹගේ ඔලුව අවුල් වෙලාද. ඉදිකටු විකුණන ගමකට ඉදිකටු විකුණන්න ආවෙ ඇයි. නෑ මේක අපූරු ඉදිකට්ටක් කිව්වා, කියලා ඒ ගම් ප්‍රධානියාගේ මිදුලට තමයි දැන් යන්නෙ. එතකොට ඉදිකටු ගන්නවද ඉදිකටු ගන්නවද, ඊටපස්සෙ ඒ ගම් ප්‍රධානියාට පියාණන්ට උපස්ථාන කර කර දියණිය ඉන්නවා. දියණිය කල්පනා කලා මේක හරි පුදුම වැඩක්නෙ කියලා එළියට ගියා. ගිහිල්ලා කිව්වා අයියණ්ඩි මොනවද ඔය. ඉදිකට්ටක් නැගණිය. ඉතින් කිව්වා ඔහේගේ ඔළුව අවුල් වෙලාද. මේ ඉදිකටු හදන ගමක්නෙ මේ ගමට මොන ඉදිකටුද කියලා. නෑ මේක අපූරු දෙයක් කිව්වා. ඕක ඔබට තේරෙන්නෙ නෑ, පියාණන්ට තේරෙන්නෙ කිව්වා. පියාණන් කිව්වා එන්න කියලා. තරුණය උඹගේ ඔළුව අවුල් වෙලාද, මේ ඉදිකටු හදන ගමකට ඉදිකටු විකුණන්න ආවෙ. ඊටපස්සෙ කියනවා නෑ මේක අමුතු ඉදිකට්ටක්. ඊටපස්සෙ කිව්වා, මේ තියෙන්නෙ, ආ හරි ලස්සන රන් ඉදිකට්ටක්නේ. නෑ නෑ පියාණෙනි කිව්වා ඔය

ඉදිකට්ට නෙවෙයි, ඕක ඇතුලෙ තියෙන්නෙ කිව්වා. දැන් ගලවන්න බලනවා, නෑ ගලවන්න තැනක් නෑ. ඊටපස්සෙ මෙයා තියුණු නියපොත්තෙන් පොඩ්ඩක් මෙහෙම කරලා ගලවනවා, මේක කොපුව, මෙන්න ඇතුලෙ ඉදිකට්ටක්. ඊටපස්සෙ කිව්වා ආ පුදුම සහගත ඉදිකට්ටක්නෙ. නෑ නෑ පියාණෙනි, ඔය ඉදිකට්ට නෙවෙයි ඔය කොපුව කිව්වා. දැන් බලනවා ගලවන්න තැනක් පේන්නෑ, අර තරුණයා හිමීට ගලවනවා කොපුව. ඒක ඇතුලෙ ඉදිකට්ට. ෂා අපූරු ඉදිකට්ටක්නේ. නෑ නෑ පියාණෙනි තව ඕක ඇතුලෙ තියෙන්නෙ. මේ විදියට හත් වතාවක් ගැලවෙනකොට ඇතුලෙ තමයි ඉදිකට්ට තියෙන්නෙ. හිතාගන්න බැරිවුනා. ඊටපස්සෙ කිව්වා පියාණෙනි, තව මේ තියෙනවා, තව මේ ඉදිකට්ටෙ වැඩක් තියෙනවා කිව්වා. ඒ තමයි වතුර භාජනයක් ගේන්න කිව්වා. ඔන්න විනිවද පේන වතුර භාජනයක් ගෙනාවා. ඊටපස්සෙ ඒක උඩින් යකඩ තහඩුවක් තිබ්බා. ඒ යකඩ තහඩුව උඩින් ඉදිකට්ට මෙහෙම තියලා කිණිහිරෙන් මේකට ගැහුවා. අපි කියමු යකඩ මිටියෙන් ඉදිකට්ටට ගැහුවා වේගෙන්. ගහනකොට අර යට තිබ්බ යකඩ පතුර පසාරු කරගෙන වතුරට වැටුනා අර ඉදිකට්ට. ඒ වතුරේ ඉදිකට්ට කෙලින් තියෙනවා ඉදිකට්ටේ යට වතුරේ ගෑවෙන්නෙ නෑ, වතුරෙන් උඩ ඉදිකට්ට මතුවෙන්නෙත් නෑ, එහෙම තියෙනවා. මෙහෙම පාවි පාවී. හරහට නෙවෙයි මෙහෙම කෙලින්. මම ඔය නිකම් ඉන්න ගමන් හැදුවේ කිව්වා. හිතාගන්න බෑ ගමේ මිනිස්සුන්ට. ඔල්වරසන් දුන්නා. ඊටපස්සෙ කවුද පියාණන් කිව්වා ඔබ හොඳයි අපේ බෑණට. ඊටපස්සෙ ඉතින් පියාණන් එහෙම කියනවානම් වරදක් නෑ කියලා දෝණියන්දෑ අරන් ගියා. මොකෙන්ද වැඩ ගත්තේ, මොළෙන්. එතකොට ඒක සාමාන්‍යයෙන් අපිට කෙල්ලෙක් ගන්න කල්පනා කරපු විදියක් විදියට පෙනුනට, කල්පනා කරපු ක්‍රමය අයිති ප්‍රඥාවට. එතකොට අසංඛෙය්‍ය හතරක් නුවණින් කල්පනා කිරීම කියන එක එකතු වෙලා එකතු වෙලා එකතු වෙලා අවසානෙට මහා ප්‍රඥාවක් උපද්දවනවා. මේ බුද්ධ ශාසනයේ ප්‍රඥාව කියන එක, දැන් මේ බුද්ධ ශාසනයේ ගුණධර්ම තියෙනවානෙ, හැබැයි මතක තියාගන්න තිසරණයට පැමිණෙන්න ඕන, ඔබ. තිසරණයට පැමිණිලා ගුණධර්මයක් දියුණු කලොත් එහෙම ඒක ග්‍රීස් ගහේ ගියා වගේ නෙවෙයි. ග්‍රීස් ගහේ ගිය එකාට අතෑරුනොත් ආයෙ මුලට. මේක ග්‍රීස් ගහක් වගේ නෙවෙයි මේ බුද්ධ ශාසනේ ගුණධර්ම දියුණු කිරීම. ග්‍රීස් ගහේ ගියොත් ලිස්සලා ආයෙ හිටපු තැනට වැටෙනවා. මේක එහෙම නෑ. ගියොත්, අඩියක් තිබ්බොත් බුද්ධ ශාසනේ තිසරණේ පිහිටපු කෙනා, ඒ වගේම මේ ජීවිතේ එයාට අහිමි වුනොත් ඊළඟ ජීවිතේ ගුණධර්ම

පුරුදු කරන ගුණධර්ම ඊළඟට එකතු වෙන්නෙ. මුල ඉඳලා යනවා කියලා එකක් නෑ, ඒ වගේ තමයි විවරණ ගත්තාට පස්සෙ ප්‍රඥාව කියන එක නුවණ වඩන්න වඩන්න ඒක සම්බුද්ධත්වයටම ගොනු වෙවී එනවා. දැන් මහිලාමුඛ ඇතා, මහිලාමුඛ ජාතකයේ ඒ ඇතා ගොඩාක් චණ්ඩ වුනා. හොඳට හිටපු ඇතෙක්. එන එන මිනිස්සු මරන්න ගත්තා. ඇමති වෙලා ඉපදිලා අපේ මහා බෝධිසත්ත්වයෝ. රජ්ජුරුවෝ කියනවා ඇමතිතුමනි මේ ඇතා නම් දමනය කරන්න හරි අමාරුයි, මං පරීක්ෂා කරන්නම් කියලා පරීක්ෂා කලා දෝෂයක් නෑ, ඇත්ගොව්වාගෙන් ඇහුවා මෙතන කවුරුහරි කතා කර කර ඉන්නවාද. මේ ඇත් ගාලට එහා පැත්තෙන් රෑට කොල්ලො ටිකක් ඇවිල්ලා කතා කර කර ඉන්නවා කියලා පණිවිඩයක් ආවා කිව්වා. ඒකාන්තයෙන්ම හොරු ටිකක් කිව්වා ඒ. මරාපියව්, කොටපියව් කියලා කතා කරන නිසා මේ ඇතා ඒවට හුරු වෙලා කිව්වා. අද ඉඳලා ශ්‍රමණ බ්‍රාහ්මණයින් ගෙනල්ලා තරහ ගන්න හොඳ නෑ, කෝප ගන්න හොඳ නෑ, අනුන්ට හිංසා කරන්න හොඳ නෑ, ඉවසන්න ඕන, දැහැමි වෙන්න ඕන කියලා කියවන්න කිව්වා. සතියක් විතර කියවනකොට ආයෙත් ඇතා ශාන්ත වුනා. කොහොමද ප්‍රශ්නය විසඳපු හැටි. ඊටපස්සෙ මතකද සේනක, සත්තුභත්ත ජාතකයේ. සේනක පඬිතුමා ඉන්න කාලේ, අපේ මහා බෝධිසත්ත්වයෝ සේනක පඬිතුමා. බමුණෙක් අර ඇතකට ගිහිල්ලා අග්ගලා ටිකක් පොකුණක් ළඟින් අග්ගලා කාලා පසුම්බිය තියලා දතකට හෝදන්න ගිය වෙලාවේ පසුම්බියට නයා රිංගුවානෙ. එතන දෙවියෙක් කිව්වානෙ, ගෙදර ගියොත් අඹු නසී, මග හිටියොත් තෝ නසී කියලා. දැන් මෙයා බඩපපුව දාලා මොකවත් දන්නැතිව දුවනවා. සේනක පඬිතුමා ළඟට ගෙනිච්චා. උඹ මොකද කලේ ඊට කලින්. මං අග්ගලා කෑවා. අග්ගලා පසුම්බිය තියලා මූණකට හෝදගන්න ගියා. තත්පරේට තේරුනා. නුවණ කියන්නෙ ප්‍රශ්නෙ තත්පරේට තේරෙනවා. කිව්වට පස්සෙ තේරෙන එක අපිටත් තේරෙනවානෙ. හැබැයි ඒකටත් යම් නුවණක් තියෙන්න ඕන. සමහරු ඉන්නවා කිව්වත් තේරෙන්නෑ, එතකොට මේ නුවණ කියන්නෙ තත්පරේට හොයනවා මොකක්ද හේතුව කියලා. ඊටපස්සෙ සේනක පඬිතුමා කිව්වා අනිවාර්යයෙන්, උඹගේ පසුම්බිය මෙතෙන්ට දාලා පොඩ්ඩක් තට්ටු කරපන් ඕකෙ සර්පයා ඉන්නවා. සර්පයා කිව්ව ගමන් පසුම්බිය බිම දැම්මා. තට්ටු කරනකොට නයා එළියට ආවා. ඊටපස්සෙ ඔබ වහන්සේට පින්සිද්ධ වේවා කියලා ජීවිතේ පූජා කරලා බමුණා වැන්දා. ඊටපස්සෙ කිව්වා බ්‍රාහ්මණය, මේ වාගේ දේවල් මාත් තේරුම් ගන්න ඕන කිව්වා, විසඳන්න ඕන කිව්වා. නැත්නම් කොහොමද මං

ලොව්තුරා සම්බුදු බවට පත්වෙන්නෙ. ඒ විවරණ ගත්තට පස්සෙ හිතේ සම්බුදු බව කියන එක රැව් දෙනවා. ඒක අසිරිමත් දෙයක්. ඊටපස්සෙ පංචායුධ ජාතකයේ ඒ නුවණ පාවිච්චි කරපු හැටි තේරෙනවානෙ. දැන් මම මේ පින්වතුන්ට අද විශේෂයෙන් කියලා දෙන්න කියලා හිතුනා ප්‍රඥාව හොඳට තේරෙන කාරණාවක්. ගාමිණීචන්ඩ ජාතකය. දැන් උම්මග්ග ජාතකය සම්පූර්ණයෙන් ප්‍රඥාව. විදුර ජාතකය, විදුර ජාතකයෙත් සම්පූර්ණයෙන් ප්‍රඥාව. ජාතක කතා පන්සීය පනස් පහ ගත්තොත් එහෙම පන්සීයකම විස්තර වෙන්නෙ ප්‍රඥාව. වැඩිපුරම ප්‍රඥාව. ඒ කියන්නෙ පින්වතුනි අනිත් පාරමිතා ඉදිරියට පවත්වන්න බෑ ප්‍රඥාව නැතිව. දානය කොහොමද පාරමිතාවක් විදියට පුරන්නෙ නුවණ නැතිව. සිල් කොහොමද රකින්නෙ දිගටම නුවණ නැතිව. මං මේ සිල් රකින්නෙ දුකින් නිදහස් වෙන්නයි කියලා හිතන සිතුවිල්ලම නුවණනෙ. ඊටපස්සෙ කාමය අත්හැරලා නෙක්ඛම්මයට යන්න ගිහිජීවිතේ අත්හරින්න ඒ කාමය නිස්සාර බව තේරෙනවා කියන එකම ප්‍රඥාවනේ. නෙක්ඛම්මයේ ආනිසංස තේරෙන එකම ප්‍රඥාවනෙ. ඒ නිසා මේ සෑම පාරමිතාවකටම ප්‍රඥාව ඕන. ඉතින් ගාමිණීචණ්ඩ ජාතකය කියන්නෙ, ප්‍රධාන රජතුමා මැරුණට පස්සෙ රජතුමාගේ පුතා තමයි මහාබෝධි සත්ත්වයෝ. වයස අවුරුදු හතයි ආදාසමුඛ කියලා. මූණ කණ්ණාඩියක් වගේ පිරිසිදුයි, ආදාසමුඛ කියලා කියන්නෙ. ඊටපස්සෙ මේ අවුරුදු හතෙන් තාත්තා මැරුණා. රජකමට ඉන්න එකම පුතා. දැන් ඇමතිවරුන්ට ප්‍රශ්නෙ පුතාට මේවා තේරෙනවාද කියලා. ඇයි අවුරුදු හතයි කිරි සුවඳ ගිහිල්ලා නෑනෙ මුවෙන්. සොඳුරු දරු පැටියා. ඊටපස්සෙ ඇමතිවරු මොකද කලේ, සිංහාසනයේ ඉන්දවලා පුංචි දරුවා වඳුරෙකුට හොඳට සරසලා ඇමති කෙනෙක් විදියට සරසලා දෙන්නා දෙපැත්තෙන් අල්ලගෙන ආවා. මහරජතුමනි මේ තමයි ගබඩාව බාරව ඒ කාලෙ හිටපු ඇමති තුමා. ඉතින් මේ ඔබවහන්සේට වන්දනා කරන්න ආවෙ, මේ දවස්වල ලෙඩවෙලා ඉන්නෙ කියලා වඳුරෙක් අරන් ආවා ආභරණ වලින් සරසලා. ඊටපස්සෙ ආදාසමුඛ කුමාරයා කියනවා ඇත්තටම අමාත්‍යවරුනි අපේ තාත්තා මං නම් හිතන්නෑ මේ වඳුරෙක් තියාගන්න තරම් නුවණක් නැති කෙනෙක් කියලා. මේ වඳුරෙක්නෙ කිව්වා. අනේ රජතුමනි අපිට වැරදිලා එහෙම වෙන්නත් පුලුවන් කියලා අරන් ගියා. ඊටපස්සෙ ඔය වගේ කුමාරයාගෙ නුවණ පිරික්සන්න ඇමතිවරු එක එක දේවල් කලා, ඒ හැම එකකින්ම කුමාරයාගෙ නුවණම බැබලුනා. ඇමතිවරු එකතු වෙලා අභිෂේක කරලා, සිංහාසනයේ මිණි කිරුළු සහිතව කුමාරයා රජ කලා. ආදාසමුඛ රජ්ජුරුවන්ගේ නුවණ අසීමිතයි කියලා

පැතිරිලා ගියා. අවුරුදු හතයි වයස. ඔය අතරේ මහරජ්ජුරුවන්ට උපස්ථාන කරපු ගාමිණීචණ්ඩ කියලා ඇමතියෙක්, ටිකක් මාන්නයි මෙයා. මෙයා මොකක්ද කලේ, මෙයාට හිතුනා මම මේ පුංචි කුමාරයෙක් ළඟ සේවය කරන එක හරි නෑ මං තනියෙන් ඉන්නවා කියලා ඈතකට ගියා. මේ ගාමිණීචණ්ඩ ඈතකට ගිහිල්ලා පොඩි කුඹුරක් කරගෙන ඉන්නවා, දැන් කුඹුර හාන්න ගොන් දෙන්නෙක් ගන්න, හරක් ඉන්න මනුස්සයෙක්ගෙන් ගොන් දෙන්නෙක් ඉල්ලුවා, ආ අරන් පලයන් කිව්වා. ගොන් දෙන්නාගෙන් කුඹුර හාලා හවස් වරුවේ ගොන් දෙන්නා ආපහු ගිහින් දුන්නා. ගිහින් මෙහෙම ගෙදරින් ඇතුලට ඇවිල්ලා ඒ හරක් ඉන්න තැනට ගොන් දෙන්නා ගියා මිදුලෙන්. අර මනුස්සයා ඇතුලට ආවා, ඇතුලෙ මිනිස්සු ඉතින් පොඩ්ඩක් කතා කරලා නැගිටලා ගියා. හැබැයි ගාමිණීචණ්ඩ මම හරකා ගෙනාවා. අන්න ගාලට දැම්මා, ඕවා කිව්වෙ නෑ ඉතින්. දැක්කනෙ ඔක්කොම. රෑ හරක් ටික හොරු අරන් ගියා. අර මනුස්සයො ටික මොකද කලේ, මේකෙන් ගාමිණීචණ්ඩගෙන්ම මේක පියවගමු කියලා ගිහිල්ලා පහුවදා කිව්වා ගාමිණී කෝ මේ හරක් දෙන්නා. ඉතින් ඊයෙ ගිහින් දුන්නෙ ඔහේලා හිටියානෙ. නෑ නෑ අපේ හරක් දෙන්නා ගෙනත් දුන්නෑ, දැන් මේ රජතුමාගෙ දූතයා කියලා බිමින් ගලක් ගත්තා. ඒ කාලයේ නීතිය යම්කිසි අසාධාරණයක් , දැන් 119 ගහන්නෙ. ඒ වගේ යම්කිසි අසාධාරණයක් ඉදිරියේ තත්පරේට බිමින් ගලක් අරන් මේ රජතුමාගෙ ආඥාවයි, මේ රජතුමාගෙ දූතයයි කියලා කිව්වොත් අනිවාර්යයෙන් එයත් එක්ක අනිත් එක්කෙනා එන්න ඕන. වැරැද්ද කරපු එක්කෙනා. ආවෙ නැත්නම් රාජ දඬුවම තව වැඩි කරනවා. ඊටපස්සෙ මේ රජතුමාගේ දූතයා කියලා ගත්තා. දැන් යං, කියලා ගලකුත් අරගෙන දැන් අරයා පිටිපස්සෙන් එනවා. එහෙම එනකොට දැන් ඔන්න පිටිපස්සෙන් යනකොට ගමකට ආවා. ඒ ගමේ හරී මහන්සියි දැන් ගාමිණීට. ඒ ගමේ යාළුවෙක් ඉන්නවා. ඊටපස්සෙ අර පැමිණිල්ල ගෙනියන එක්කෙනාට කිව්වා ඔහේ ඔතන ඉන්න, මගේ හිතවත් කෙනෙක් මේ ගෙදර ඉන්නවා ගිහිල්ලා එන්නම්. දැන් පනින්න බෑ රජතුමාගේ නියෝගයට අහුවෙලානෙ තියෙන්නෙ. ඊටපස්සෙ අර මනුස්සයා ඉන්න අතරේ ළඟ ගෙදරකට ගියා. ඇත්තටම මේ මිනිස්සුන්ට කරදර වෙනවා කියන එක බලන්න පින්වතුනි, ළඟ ගෙදර, හිතවත් කෙනාගෙ ගෙදර යනකොට අර ගෑණු කෙනා විතරයි හිටියේ පිරිමි කෙනා හිටියේ නෑ, ගෑණු කෙනා බඩදරු අම්මා කෙනෙක්. අනේ අයියණ්ඩි කිව්වා. ඉතින් අනේ නගා මට හරි බඩගිනියි බං. අනේ තිබ්බ ඒවා නම් කාලා බීලා ඉවරයි, අයියණ්ඩි ඔහොම ඉන්න මං බත් ඩිංගිත්තක් ඉක්මණට උයලා

දෙන්නම්. ඉතින් හාල් ටිකක් ගන්න ඉණිමග තියලා අටුවට ඉණිමග තියලා මේ ගෑණුකෙනා අටුවේ නගිද්දි ඉණිමග ලිස්සලා වැටුණා. වැටෙනකොට බඩ තැලුනා. දරුවා මැරුණා. ඉතින් කාන්තාවට අසනීප වුනා ඒ වෙලාවෙ. එතකොටම අර මිනිහා ආවා. මිනිහා එක පාරටම අර මනුස්සයාගෙ ඇඟට ගොඩවුනා. මගේ ගෑණි හොඳට හිටියා, ගෑණිගෙ බඩේ හිටපු දරුවා මරාගත්තෙ තෝ, තොට මං යහතින් ඉන්න දෙන්නෑ, මේ රජතුමාගෙ අණයි කියලා එයත් ගලක් ගත්තා. දැන් නඩු දෙකයි. මනුස්සයන්ට කරදර වෙන ඒවා බලන්න. දැන් ඔන්න දෙන්නෙක් ගාමිණිව අල්ලගෙන යනවා. එහෙම අල්ලගෙන යනකොට ඈතින් අශ්වයෙක් දුවගෙන එනවා. ඒ කියන්නෙ අශ්වයා බලාගනන්න එක්කෙනෙක්ගෙන් අශ්වයෙක් පැනලා. ඒ මිනිහා පිටිපස්සෙන් දුවනවා, අශ්වයත් දුවනවා. කෑගහලා කිව්වා ගාමිණී ඔය අශ්වයා අල්ලගනින්, මොකකින් හරි දීපිය කිව්වා. ඊටපස්සෙ අර ගාමිණී ළඟ තිබ්බ ගලක් අරන් වේගයෙන් ගැහුවා. ගහපු ගමන් අශ්වයාගෙ කකුලට වැදිලා නෙළුම් දණ්ඩක් කැඩුනා වගේ කකුළ කැඩිලා අශ්වයා තුන් කකුලෙන් වැටුනා. ඒ මනුස්සයා කිව්වා මගේ අශ්වයා හොඳට හිටියා, තෝ තමයි කකුළ කැඩුවෙ කියලා ඒ මනුස්සයා මේං ගලක් ගත්තා. මෙහෙමත් කරදර මිනිස්සුන්ට වෙන. ඉතිං ඊටපස්සෙ මෙයා කල්පනා කලා ගාමිණී, මට නම් දැන් නිදහසක් නෑ නඩු තුනයි. මට ජීවිතෙන් වැඩක් නෑ කියලා හිත හිතා යනකොට කන්දක් පේනවා එක පැත්තක ලොකු ප්‍රපාතයක්. ගාමිණී මේ කන්දෙන් උඩට ගිහිල්ලා අර මිනිස්සු ටිකට ඔහේලා පොඩ්ඩක් ඔහොම ඉන්න මං මුත්‍රා කරලා එන්නම් කියලා කැලේ ඇතුලට ගිහිල්ලා අර කන්ද මුදුනට නැගලා මගේ පණ එපා කියලා කන්දෙන් පැන්නා. ඔය කන්ද, හරියටම කන්ද පාමුල තාත්තයි පුතයි දෙන්නා වේවැල් කපන්න ගිහිල්ලා ඉඳගෙන ඉන්නවා වේවැල් ටිකක් කපලා. අර උඩින් වැටුනු මනුස්සයා වැටුනේ අර තාත්තගේ ඇඟ උඩට. අර වැටිච්චි මනුස්සයට මොකවත් වුන්නෑ, ඒ ළඟ හිටපු තාත්තා එතනම චප්ප වෙලා මැරුණා. ඒ කොල්ලා කිව්වා මගේ තාත්තා තෝ තමයි මැරුවෝ, තෝව ඉතුරු කරන්නෑ දැන් රජතුමා ගාවට යං කියලා ඒ මනුස්සයත් ගලක් ගත්තා. පින්වතුනි මේක ඇත්තටම සිද්ධ වෙච්ච දෙයක්. මේ කරදර කියන ඒව. ඇත්තටම මේ ගාමිණීචණ්ඩ කියන්නෙ ආනන්දයන් වහන්සේ සංසාරේ. කරදර කෙළවරක් නෑ. දැන් ඉතින් මේ වෙච්ච කරුමේ කියලා මෙයා දැන් යනවා. යනකොට ගම් ප්‍රධානියෙක් ගාමිණීගෙන් ඇහුවා, ගාමිණී උඹ කොහෙද යන්නෙ. කිව්වා මං නඩුවක පැටලුනා, මේ රජ්ජුරුවො ළඟට යනවා. අනේ අපේ රජතුමා හරි

නුවණක්කාරයි කියලා ආරංචියි. මට ප්‍රශ්නයක් තියනෙවා, ඒක පොඩ්ඩක් රජතුමාට කියන්න. ඒ තමයි මං ඉස්සර හරීයට ඇහැට කණට පේන්න හිටපු මනුස්සයෙක්. හොඳට කාලා බීලා හිටියා. දැන් මං හරීයට දිරලා ගිහිල්ලා බං, කෙට්ටු වෙලා. ඔහේ හිතට කිසි සැනසිල්ලක් නෑ, ඔහේ ජීවත් වෙනවාට ජීවත් වෙනවා ගාමිණී. ගිහිල්ලා රජ්ජුරුවන්ට කියාපං මට මොකද මේ වෙලා තියෙන්නෙ කියලා. ඒ අපේ රජ්ජුරුවන් වහන්සේ නුවණින් දකිනවා බං. නුවණින් දකිනවා මට උත්තරයක් කියයි. උඹට පුලුවන් නේද උත්තරයක් අරන් එන්න. පණ තිබ්බොත් අරන් එන්නම් කිව්වා. ඊටපස්සෙ ඔහොම යනකොට ගණිකාවක් මුණ ගැහුනා. ඒ ගණිකාව කිව්වා, ගාමිණී කොහෙද යන්නෙ. නඩුවක පැටලිලා මේ රජ්ජුරුවො ළඟට යනවා. ඊටපස්සෙ කියනවා මට මේ පුරස්නයක් තියෙනවා, අපේ රජතුමා හරී නුවණක්කාරයි කියලා ආරංචියි, මට උත්තරයක් ඕන. ඒ තමයි ඉස්සර මං ගාවට මිනිස්සු වැල නොකැඩී එනවා. දැන් එකෙක්වත් එන්නෑ, කැඳ ටිකක් බොන්න හාල්පතක් නෑ බං ගාමිණී ගෙදර. අපේ රජ්ජුරුවෝ දිවැසින් දකිනවා වගේ මේ ප්‍රශ්නවලට උත්තර දකිනවාලු. අනේ මට උත්තරයක් ඉල්ලගෙන වරෙන්. මට මොකක්දෑ මේ වුනේ කියලා. ඊටපස්සෙ පණ තිබ්බොත් උත්තරයක් අරන් එන්නම් කියලා ඔහොම යනකොට තව ගෑණු කෙනෙක් හම්බුනා පාරෙ ඉඳලා. ගාමිණී අයියා කොහෙද යන්නෙ. ඊටපස්සෙ කිව්වා මේ බලාපං නඩුවකට පැටලුනා. අනේ රජතුමා ගාවටද යන්නෙ. රජතුමා ගාවට යන්නෙ. රජතුමා හරී ඥාණවන්තයිලු. මට පුරස්නයක් තියෙනවා, මට අපේ මිනිහා ළඟ ඉන්න බෑ කියලා මං ගෙදර යනවා. ගෙදර ගිහිල්ලා ටික දවසක් ඉන්නකොට ගෙදර ඉන්න බෑ කියලා මිනිහා ළඟට එනවා. ඊටපස්සෙ මිනිහා ළඟ ඉන්න බෑ කියලා ගෙදර යනවා. මං ඇවිද ඇවිදමයි බං ඉන්නෙ මේ. මට මොකක්ද වුනේ කියලා රජ්ජුරුවන් වහන්සේගෙන් අහපං දිවැසින් දැක්කා වගේ කියනවාලු. නුවණක්කාරයිලු. ඊටපස්සෙ කිව්වා පණ තිබ්බොත් උත්තරයක් අරන් එන්නම් කියලා දැන් ඇත්තටම හිතන්න, ඔබට ඔය ප්‍රශ්න ටික පිළිවෙලට ආවොත් උත්තර මොනවාද. මේ ජාතක කතාව කියවලා නැති කෙනෙක් ඕකට උත්තර හිතන්න දැන්. මේවට රජතුමා උත්තර දෙන විදිය, අවුරුදු හතේ කුමාරයා උත්තර දෙන විදිය පුදුම සහගතයි. ඊටපස්සෙ ඔහොම යනකොට සර්පයෙක් හුඹහකින් ඔලුව දාගෙන ඉන්නවා. ගාමිණී කොහෙද යන්නෙ, රජතුමා ගාවට අනේ මට පොඩි ප්‍රශ්නයක් තියෙනවා. ඒ තමයි උදේ වෙනකොට ආහාර දිරවලා හුඹහ අස්සෙ මට හරී ඇඟට සැහැල්ලුයි. හැබැයි මං යන්නෙ හරී අමාරුවෙන්. හවස

ගොදුරු හොයාගෙන එනකොට මගේ ඇඟ තරවෙලා. හුඹහට රිංගුවාම හුඹහෙන් එකයි ඇඟ. එච්චර ඇඟ බරවෙලා තියෙද්දිනුත් මං හොඳට වේගෙන් එනවානෙ හැන්දෑවට තුඹහ අස්සට. අනේ ගාමිණී මේක මොකක්ද කියලා රජ්ජුරුවන්ගෙන් අහපංකො. දිවැහෙන් දැක්කා වගේ කියනවා. ඊටපස්සෙ ආ ඒකත් කියලා යනකොට මුවෙක් හම්බුනා. ගාමිණී කොහෙද යන්නෙ. ඊටපස්සෙ කිව්වා මං මේ රජතුමා මුණගැහෙන්න යන්නෙ. ඊටපස්සෙ කිව්ව අනේ ගාමිණී මටත් ප්‍රශ්නයක් තියනවා. මට ආන්න අර ගහ ළඟ තියෙන තණකොළ විතරයි කන්න පුලුවන්නෙ. වෙන කොහේවත් තණකොළ කන්න බෑ, ඕක මොකක්ද කියලා රජ්ජුරුවන්ගෙන් අහපංකො. රජතුමා නුවණැහින් දැකලා කියනවා බං. එහෙමයි ආරංචිය. හරි උත්තරයක් ලැබුනොත් ගේන්නම් කියලා ගියා. ඊටපස්සෙ යනකොට වටු කුරුල්ලෙක් ඉන්නවා හුඹහක් උඩ එයත්. කියනවා ගාමිණී මටත් ප්‍රශ්නයක් තියෙනවා රජ්ජුරුවන්ට කියාපං. මොකක්ද. මට මෙන්න මේ හුඹහ උඩ ඉඳලා ලස්සනට නාද කරන්න පුලුවන්. මේ වෙන තැනකට ගියාට පස්සෙ ඒ හඬ එන්නෑනෙ බං. මේකට උත්තරේ මොකක්ද කියලා රජ්ජුරුවන්ගෙන් අහගෙන වරෙන්කො. ඊටපස්සෙ කිව්වා පණ තිබ්බොත් අහගෙන එන්නම්. ඊටපස්සෙ ඉන්නවා, එහෙම යනකොට ලොකු නුග ගහක් තියෙනවා, නුග ගහෙන් දෙවියෙක් මතුවුනා. ඒ දෙවියා කියනවා ගාමිණී, ඉස්සර කිව්වා කොහේද යන්නෙ, මං මේ නඩුවකට පැටලුනා දේවතාවුන් වහන්ස. ඊටපස්සෙ කිව්වා ගාමිණී එහෙනම් රජතුමාට ගිහිල්ලා කියාපං අහවල් ගහේ දේවතාවුන් වහන්සේ දැන් ඉන්නවා කිසිම පුදපූජාවක්, මිනිස්සු මලක්වත් මේ ගහ ළඟ තියන්නෑ, පුද පූජා වලින් පිරුණා ඉස්සර නම් හරියට මේ හරියෙ පූජාවල් ගොඩ. මොකක් වුනාද කියලා මටවත් තේරෙන්නෑ ගාමිනී. අනේ රජතුමාට කියාපං දෙවිවරු අතරත් කතාවෙනවා ආදාසමුඛ රජතුමාගේ නුවණ හිතාගන්න බැරිතරම් නුවණක් කිව්වා. මගේ ප්‍රශ්නෙට උත්තරෙත් අරන් වරෙන්. ඔහොම යනකොට වතුරකින් නයෙක් මතුවුනා, පොකුණක් ළඟින්. ගාමිණී කොහෙද යන්නෙ. රජතුමා මුණගැහෙන්න. අනේ නාග ලෝකෙත් කතා වෙනවා, ආදාසමුඛ රජ්ජුරුවෝ හරි නුවණක්කාරයි කියලා. මට පුරස්නයක් තියෙනවා, ඒ තමයි මේ විල ඉස්සර හරී පිරිසිදුයි, දැන් හරියට කැළඹෙනවා. කැළඹිලා බොර වෙන නිසා ගෙම්බො මේකෙම පැටවු දාලා හරියට ඉස්ගෙඩියො ඉන්නවා. අපිරිසිදුයි ගොඩාක් වතුර. ගාමිණී ගිහිල්ලා කියන්න රජතුමාට මොකක්ද මේකට උත්තරේ කියලා. ඊටපස්සෙ එතනිනුත් ඔන්න දැන් ගියාට පස්සෙ ආයෙ හම්බුනා තාපසයෙක්, ඒ තාපසයා

කියනවා අනේ ගාමිනී රජතුමාට මගෙත් පැමිණිල්ලක් තියෙනවා කියපං, අපේ ආරාමෙ තියෙන එලවැල ඉස්සර හරී රසයි දැන් රස නෑ, ඒ නිසා මේකට හේතුව මොකක්ද කියලා. ඊට පස්සෙ යනකොට තව බමුණො ටිකක් හම්බ වුනා. තරුණ බමුණු කොල්ලො ටිකක්. පාඩම් කරන අය. වේද ඉගෙන ගන්න අය. ගාමිණී කොහෙද යන්නෙ. අනේ රජ්ජුරුවන්ට නුවණැහැ තියෙනවලු. අපිට කිසි දෙයක් මතක හිටින්නෑ, ඉස්සර නම් හොඳට කටපාඩම් කරගන්නවා, හොඳට මතක හිටිනවා. දැන් මතක නෑ. රජතුමාට කියාපං මේ මතක හිටින්නැත්තෙ ඇයි කියලා. ඔන්න ළමයින්ටත් හොඳ උත්තරයක් දැන් රජ්ජුරුවො දෙයි. ඊටපස්සෙ මේ ඔක්කෝම ටික අහගෙන දැන් ගියා. ගියා රජතුමා ළඟට පැමිණිල්ල අරන් ගිය ගමන් රජ්ජුරුවො දැක්කා අර ගාමිණීචණ්ඩ. දැකලා කිව්වා ආ, මේ අපේ තාත්තා ළඟ හිටපු කෙනා නේද. ඔහේ මාව වඩාගෙනත් තියෙනවා නේද. කොහෙද ගියේ. අනේ රජතුමනි මං ඈතට ගියා. මේ මිනිස්සුන්ට මට චෝදනාවකට මට වැරැද්දකට අහුවෙලා මේ මිනිස්සු මාව අරන් ආවෙ. ඒ ඇදගෙන ආපු එක වටිනවා. ඔබව බොහෝ කාලයක් දැක්කෙ නෑ. ඒ නිසා නඩුවකට හරි පටලැවිලා ආපු එක හොඳයි කිව්වා. බලන්න සතුටු සාමීචිය. නුවණ තියෙන අය සතුටු සාමීචිය තියෙනවා. ඊටපස්සෙ හරි එහෙනම් අපි දැන් නඩුව විසඳමු කියලා ගෙනාවා. ඊටපස්සෙ ඉස්සෙල්ලාම මනුස්සයා කිව්වා අපේ හරක් දෙන්නා මේ මනුස්සයා දුන්නෑ, ඇත්තද ගාමිණී. දැන් විමසනවා දැන්. ගාමිණී වෙච්චි සිද්ධිය කිව්වා. එතකොට මූණෙන්ම තේරෙනවා කවුද බොරු කියන්නෙ කවුද ඇත්ත කියන්නෙ කියලා. බොරුවකුයි ඇත්තකුයි කියනකොට ඔය මූණෙ ඉරියව් ශාස්ත්‍රය දන්න කෙනා ඔය මූණෙන්ම කියන්න පුලුවන් මෙයා කියන්නෙ ඇත්තද බොරුද කියලා. ඒකනෙ ඉස්සර සාමාන්‍යයෙන් හොයනවා කියන්නෙ - මම මේක හරියටම දන්නෙ නෑ - සාමාන්‍යයෙන් බොරුවක් කියනකොට එයාගෙ නළලේ දාඩිය දාන එකක් තියෙනවා කියලා. ඊළඟට ඇස්වල කටින් ඒක දැනෙනවා කියනවා. ඇත්ත කතා කරන කෙනා එයාගෙ මූණ ඍජුයි. කෙලින්ම කියන්නෙ එයා. ඉතින් ඒ වගේ ඉතින් ඔය ආපු ව්‍යවහාරයක් මම කිව්වෙ. ඒ වගේ ඉස්සර ඒ කුමාරයා ඒවා දන්නවා. කුමාරයාගේ හිතට ඒවා වැටහෙනවා. ඒක නුවණක්. ඒක ඍද්ධියක්. මොන ඍද්ධියක්ද? ප්‍රඥා ඍද්ධිය. ඊටපස්සෙ තේරුණා කතාවෙන්ම. හැරුණා අර ගවහිමියා පැත්තට. කියනවා ඇත්ත. නෑ රජතුමනි මෙහෙමයි. කිව්වා සෙල්ලම් කරන්න හදන්න එපා බං, මේ ආදාසමුඛ රජ්ජුරුවන්ගේ ආඥාව පවතින රාජ්‍යය. නුඹ ඇත්ත කිය යුතුයි. අනේ රජතුමනි සමාවෙන්න හරක් දෙන්නා

කලින් දවසේ ගෙනත් දුන්නා කිව්වා. ඉතින් උඹ දැන් කිව්වෙ ගෙනත් දුන්නා දැක්කෙ නෑ කියලා. මට සමාවෙන්න රජතුමනි. උඹ දැක්ක දේ දැක්කෙ නෑ කිව්වා. ආදාසමුඛ රජ්ජුරුවන්ගේ රාජ්‍යයේ කාටවත් බොරු කියන්න ඉඩ නෑ කිව්වා. උඹ දැක්ක දේ දැක්කෙ නෑ කිව්වා. උඹටත් දඬුවම්, ගාමිණීටත් දඬුවම්. ඒ තමයි ගාමිණී මොහුට දඬුවම් දිය යුතුයි නුඹ. ඒ තමයි දැක්ක දේ දැක්කෙ නෑ කිව්ව නිසා මූගේ ඇස් දෙක උගුල්ලන්න ඕන නුඹ දැන්. නැතිවුන හරක් දෙන්නා අර ගබඩාවෙ කහවණු විසිහතරක් මේ මනුස්සයට දෙන්න කිව්වා. ඊටපස්සෙ අර මනුස්සයා කිව්වා, ඇස් නැතිවුනාට පස්සෙ මොන කහවණුද. ඒ කහවණු ටිකත් ඔබ වහන්සේ තියාගන්න. මගේ කහවණු ටිකත් තියාගන්න කියලා වැඳලා ගාමිණීගෙන් සමාව අරන් ඒ මනුස්සයා ගියා. ආ දැන් ඊළඟ නඩුව. ඊටපස්සෙ කිව්වා දරු ගැබ නැතිවුන එක්කෙනා ආවා. ඊටපස්සෙ කිව්වා මගේ දරුවා නැති කලා මේකා. මට දරුවෙක් ඕන කොහෙන්හරි. ගාමිණී මොකක්ද වුනේ. විස්තරේ කිව්වා අනේ මම දන්නෑ මේ ගෑණි තමයි අටුවක නගින්න ගිහිල්ලා වැටුනේ. ඊටපස්සෙ කිව්වා අර මනුස්සයා කිව්වා නෑ නෑ මට කොහෙන්හරි දරුවෙක් ඕන. ඊටපස්සෙ කිව්වා හරි, උඹට දැන් දරුවෙක්නෙ ඕන. ඒ නිසා ගාමිණී එහෙනම් මේ මනුස්සයාගෙ ගෑණි ඔහේ ගෙනිහිල්ලා ගෙදර තියාගෙන ඉඳලා දරුවෙක් ලැබුනට පස්සෙ ගෙනල්ලා දෙන්න කිව්වා. ඊටපස්සෙ අර මනුස්සයා වැඳලා කිව්වා අනේ අපේ පවුල කඩන්න එපා කියලා වැඳලා ඒ මනුස්සයත් ගියා. ඊටපස්සෙ ඊළඟ නඩුව ගේන්න කිව්වා. ඊටපස්සෙ කිව්වා අස්ස කකුළ කැඩිච්ච එක්කෙනා. ඊටපස්සෙ එයා ඇවිල්ලා කිව්වා අනේ රජතුමනි බලන්න මේ ගාමිණී මගේ හොඳම අශ්වයාගෙ කකුළ ගලකින් ගහලා කැඩුවා කිව්වා. ඇත්තද ගාමිණී, ගාමිණී වෙච්ච දේ කිව්වා. අනේ ස්වාමීනී මෙහෙමයි වුනේ කියලා. ඊටපස්සෙ ඒ රජතුමාට තේරෙනවානෙ මේක. රජතුමා අර මනුස්සයා දිහාට හැරිලා කිව්වා, ඒයි මනුස්සයො ආදාසමුඛ රජ්ජුරුවන්ගේ රාජ්‍යයයි මේ තියෙන්නෙ, සත්‍යය කිව යුතුයි. ඇත්ත කියාපන්, උඹ කිව්වද නැද්ද ගාමිණීට ඔය ඕනෙ එකකින් ගහලා අශ්වයා නවත්තගන්න කියලා, කිව්වද නැද්ද. පොඩ්ඩක් සද්දෙන් කියනකොටම අර මනුස්සයා කිව්වා, අනේ කියවුනා මට. ඉතින් දැන් තෝ ඉස්සෙල්ලා නෑ කියලා කිව්වෙ. බිම බලාගත්තා. මේ නඩුවත් විසඳන්න දෙන්නෙ ගාමිණීට. දෙන්නටම දඬුවම්. ඒ තමයි ගාමිණී කියපු දේ කිව්වෙ නෑ කියපු නිසා මේ මනුස්සයාගෙ දිව එළියට ඇදලා කපන්න ඕන. අශ්වයාගෙ කකුළ කැඩුන එකට ඔබ කහවණු දාහක් ගබඩාවෙන් අරන්දෙන්න ඕන මේ මනුස්සයාට. අර මනුස්සයා වැඳලා කිව්වා

අයියෝ දිව කැපුවට පස්සෙ මොන කහවණුද මට. මෙන්න මං ගාවත් කහවණු තියෙනවා ඒ ටිකත් අරන් මට යන්න දෙන්න කියලා ඒ මනුස්සයා ගියා. ඊටපස්සෙ කන්දෙන් පැනලා තාත්තා මැරිච්ච නඩුව ආවා. මොකක්ද නඩුව. මේ මනුස්සයා මගේ තාත්තා මැරුවා, මට දැන් තාත්තා කෙනෙක් නෑ කිව්වා. දැන් ඒකද නුඹට ප්‍රශ්නෙ ඔව් කිව්වා. එහෙනම් නුඹගේ මව් දීපං කිව්වා මෙයාට. එතකොට උඹට අම්මා කෙනෙකුත් ඉන්නවා, තාත්තා කෙනෙකුත් ඉන්නවා. අනේ වැඳලා කිව්වා මට අම්මා විතරක් ඇති, මං මළගම කරන්නම් කියලා කහවණු අතේ තිබ්බ කහවණු ටික දීලා ඒ මනුස්සයා ගියා. ඊටපස්සෙ රජ්ජුරුවො නිසා ආයෙ කවුරුත් මොකවත් කියන්නෙ නෑ, මේ අවුරුදු හතයි වයස. ඊටපස්සෙ හරී සතුටුයි චණ්ඩගාමිණීට. මේ නඩුව විසඳපු විදිය. හරීයට සතුටු වෙලා වන්දනා කලා. වැඳලා කිව්වා රජතුමනි, මට මගදින් තව නඩු ටිකක් ඔබවහන්සේට කියන්න කියලා කිව්වා. කියලා ඉතුරු නඩු ටික ඔක්කෝම කිව්වා. මේ නඩු දාහතරක් තියෙනවා. ඊටපස්සෙ එහෙනම් ගාමිණී මං නුඹට අවසාන හසුන්පතේ ඉඳලාම ඔය නඩු ටික විභාග කරලා දෙන්නම් කිව්වා. ගාමිණී ඔය තරුණ බ්‍රාහ්මණයො ටිකකට කටපාඩම් හිටින්නෑ කිව්වා නේද. ගාමිණී අනිවාර්යයෙන්ම ඔය බ්‍රාහ්මණයො ළඟ ඉඳලා තියෙනවා, හරියටම වෙලාවට හඬළන කුකුළෙක්. ඔය කුකුළා හැමදාම එකම වෙලාවට හඬලන නිසා ඒ හඬට මේ බ්‍රාහ්මණ කුමාරවරු කලින් නැගිට්ටා. වෙලාවට නැගිටලා පාඩම් කරන්න පුරුදු වුනා මෙයාලා. එතකොට අලුයම නැගිටලා පාඩම් කිරීම, ඊටපස්සෙ කටයුතු කිරීම, ඒවා මුල් කරගෙනත් වෙලාවට නිදාගන්න නිසාත්, වෙලාවට අවදිවෙන නිසාත් මේ ළමයින්ට මේ බ්‍රාහ්මණ කුමාරවරුන්ට හොඳට මතක හිටියා. ඔය වෙලාවට හඬළන කුකුළා අනිවාර්යයෙන් දැන් මැරිලා ඇති කිව්වා. ඒ නිසා මේ කුමාරවරු හිතුනු හිතුනු වෙලාවට නැගිටිනවා. එතකොට හිතුනු වෙලාවට නිදාගන්නවා, හිතුනු වෙලාවට නැගිටිනවා. එතකොට මොකද වෙන්නෙ. නිදි කිර කිරා, එතකොට හිතුනු ගමන් නැගිටලා පොත් බලනකොට ඒ වේදය කටපාඩම් කරනකොට නිදිකිරා වැටෙනවා. නිදිකිරා වැටි වැටී කටපාඩම් කරන දේ මතක හිටින්නෑ. ඒ නිසා ගාමිණී ඒ අයට කියන්න වෙලාවට නිදාගන්න, වෙලාවට අවදිවෙන්න. ඊළඟට ඒ වේදය පාඩම් කරගැනීම සඳහා වෙලාවක් තියාගන්න කියලා. ඕන්න මතක හිටින්න උපක්‍රමයක්. වෙලාවට නිදාගන්න ඕන, වෙලාවට අවදිවෙන්න ඕන. අද කාලෙ කොල්ලො කුරුට්ටො මේ ෆෝන් ඔබ ඔබා ඉඳලා බුදියාගන්නෙ ෆෝන් එකේ ඩේටා ඉවරවුනොත් ඔන්න යාන්තම් ඇස් දෙක පියවෙනවා. එහෙම නැත්නම් ෆෝන් එකේ බැට්‍රිය ලෝ

වුනොත් ආයෙත් එහෙම්ම ඇස් දෙක පියවෙනවා. මිසක්කා වෙලාවට නිදාගන්නවායි, වෙලාවට අවදි වෙනවයි කියලා එකකුයි නෑ. වෙලාවට නිදාගන්න එක වෙලාවට අවදි වෙන එක කටපාඩම් කිරීමට උපකාරී වෙනවා. ඊළඟට පොත් බලන ඒවා, කටපාඩම් කරන ඒවා, එකම වෙලාවක කරන්න ඕන. ඒ කියන්නෙ අද දවසේ උදේ වරුවේ කරනවානම්, හෙටත් ඒක උදේ වරුවෙම කරන්න ඕන. මේ ජාතක කතාවේ එහෙම තියෙන්නෙ. ඊටපස්සෙ තියෙනවා ඊළඟ එක, අර තාපසයා කිව්වනෙ ඵලවැල නීරසයි කියලා. ගාමිණී ඔය තාපසයා අනිවාර්යයෙන් කලින් සිල්වත්. දැන් සීලය කඩාගෙන ඉන්නෙ. ඔය තාපසයා සීලය කඩාගත්තට පස්සෙ හිත දුර්වල වෙලා තියෙන්නෙ. ආරාමයේ තියෙන ඵලවැල විකුණලා ඒ හම්බෙන කහවණු වලින් එයා කැමති කැමති දේවල් කනවා. ඒ හේතු කරගෙන ඵලවැල නීරස වෙලා තියෙනවා. ඔය තාපසයාට කියන්න ශ්‍රමණ ගුණධර්ම වල පිහිටලා ඉන්න කියලා. ආදාසමුඛ රජ්ජුරුවොත් එක්ක සෙල්ලම් කරන්න එපා කියලා පණිවිඩේ ගිහිල්ලා කියන්න කිව්වා. ඊළඟ නඩුව, අර විලේ නාගයා ජලය කැළඹෙනවා කිව්වනෙ. කිව්වා ගාමිණී ඔය නාගයො කලින් සමගිව ඉඳලා තියෙනවා වතුරේ ඉන්න නාගයෝ. ළඟදින් අනිවාර්යයෙන් ඔය විලේ නාගයො අතර රණ්ඩුවක් යනවා. ඒ කියන්නෙ ගට්ටනයක්, අමනාපයක්. එතකොට ඒ නාගයෝ රණ්ඩු සරුවල් වෙනකොට විල කැළඹෙනවා. විල කැළඹුණා පස්සෙ බොර වෙනවා. බොර වුනාට පස්සෙ අපිරිසිදු වෙනවා. ඒ නිසා නාගයන්ට සමගියෙන් හිටියොත් එහෙම ඔය විලේ ජලයත් පිරිසිදු වෙනවා කියලා ගිහිල්ලා කියන්න කිව්වා. ඊටපස්සෙ රුක් දෙවියාට, රුක් දෙවියාට කලින් පුදපූජා නෑනෙ. ඊටපස්සෙ කිව්වා කියන්න කියලා, ඔය රුක් දෙවියා කලින් හොඳට පුද පූජා අරන් මිනිස්සු ආරක්ෂා කලා. දැන් ආරක්ෂා කරන්නැතිව ඇති. ඔහේ පාඩුවේ ඉන්නවා ඇති. මිනිස්සු රකින්න කියන්න, එතකොට මිනිස්සු පුදපූජා දෙයි කියලා කියන්න. ඊටපස්සෙ තුඹස උඩ හිටපු වටු කුරුල්ලා ඒක උඩ ලස්සනට කෑගහනවා ඒ හඬ වෙන තැනක එන්නෑ කියනවානෙ. අනිවාර්යයෙන් ඒ වටු කුරුල්ලා ඉන්න තුඹස යට නිධානයක් තියෙනවා. ඒ වටු කුරුල්ලා ඕක දන්නවා. ඒ නිසා තමයි එතන ඉඳලා ලස්සනට නාද කරන්නෙ කියලා කිව්වා. ඉතින් මට ඕක කියනකොට මතක් වුනේ. දැන් අපිත් ඔය ඉස්කෝල වල ගියානෙ. ඉස්කෝල වලට යන ළමයි සාමාන්‍යයෙන් ඔක්කෝම හොඳට ඉන්නවා. සමහර තැනකට ගියාම අනිවාර්යයෙන් එයා වෙනම ලස්සනට සින්දු කියනවා. පොඩ්ඩක් ෂර්ට් එක පිළිවෙලට හදාගෙන ඉන්නවා. ඉතින් සමහර තැන්වලදි හරි වෙනස්. මේ ජාතක

කතාව කියනකොට මට මතක් වුනේ. එයා ස්කෝලේ යනකාලෙ කොල්ලො පිළිවෙලටම ඉන්නෙ යාලුවෙන්න කෙල්ලෙක් හොයනවානම් ඒ කෙල්ල ළඟ ඉන්නවා නම් පිළිවෙලයි. ඒ කෙල්ල ඉන්නවා නම් මිහිරට එනවා නාදය. දැන් අනිත් තැන්වල එහෙම වෙන්නෑ, පිළිවෙලට ඉන්නෑ, හරී සංවරයි. නිධානයක් කොතනක හරි තියෙනවා. ඉතින් ඒ නිසා මට ඒක මතක් වුනා. මේ වටු කුරුල්ලාගේ කතාව. ඉතින් කිව්වා ගාමිණී ඔය වටු කුරුල්ලා ඉන්න තැන තුඹහ හාරලා ඕක ඇතුලෙ තියෙන නිධානය ගන්න කිව්වා. රජතුමාගෙන් ඔබට ඒකට අවසර තියෙනවා. ඊටපස්සෙ කිව්වා ගාමිණී, එකම තැනක මුවෙක් කොළ කනවානෙ, වෙන තැනකට යන්නෑනෙ. ගාමිණී අනිවාර්යයෙන් බලන්න කිව්වා ඔය ගහක් ළඟනෙ ඔය තණකොළ කන්නෙ, ඔය ගහ උඩ ලොකු මීවදයක් තියෙනවා. ඒ මීවදයෙන් පැණි බේරිලා වැටෙනවා තණකොළ වලට. ඒ තණකොළ වලට මී පැණි රහත් එක්ක කන්න ඔය මුවා ඒකට ඇබ්බැහි වෙලා. ගාමිණී ඔය මී වදය කඩලා හොඳ මී පැණි ටික අපිට එවන්න, ඔබත් ටිකක් පාවිච්චි කරන්න කිව්වා. ඊටපස්සෙ කිව්වා, සර්පයා, සර්පයා කිව්වානෙ, මම මේ උදේට අමාරුවෙන් යන්නෙ, හවසට වේගයෙන් එනවා හුඹහ ඇතුලට කියලා. අනිවාර්යයෙන් ගාමිණී ඔය හුඹහ ඇතුලෙ නිධානයක් තියෙනවා. ඒ නිධානය අත්හැරලා යන්න ලෝභකමට උදේ අමාරුවෙන් යන්නෙ. හවස ගොදුරු කාලා නිධානෙ මතක් වෙලා වේගයෙන් හුඹහට එනවා කිව්වා. ඒ නිසා ඔය නිධානයත් ගාමිණී ඔබ ගන්න, රජතුමාගේ අවසරය තියෙනවා කිව්වා. දැන් මට ඒකටත් මතක් වුනේ උදේ කොල්ලො කුරුට්ටො රෑ එළිවෙනකල් ෆෝන් ඔබ ඔබා ඉඳලා අමාරුවෙන් ස්කෝලෙ යනවා. ස්කෝලෙ ගිහිල්ලා හවස වේගයෙන් ගෙදර එනවා. ඇයි ෆේස්බුක් යන්න. මැණික. ඒ එයාගෙ නිධානය. ඊටපස්සෙ තියෙනවා ඇහුවා, අර ගැහැණියක් මිනිහා ළඟ ඉන්න බෑ කියලා ගෙදර යනවා කියලා යනවා, ඊටපස්සෙ ගෙදර යන්න බෑ කියලා ආපහු මනුස්සයා ළඟට යනවා, පාරේමනෙ ඇවිද ඇවිද ඉන්නවා කිව්වෙ. ගාමිණී අනිවාර්යයෙන් ඔය ස්ත්‍රියට සොර සැමියෙක් ඉන්නවා. ගාමිණී අනිවාර්යයෙන් මනුස්සයා ළඟ ඉන්න බෑ ගෙදර යනවා කියලා රණ්ඩු වෙලා ඇවිල්ලා හොර මනුස්සයාගෙ ගෙදර ඉඳලා තමයි අම්මලාගෙ ගෙදරට යන්නෙ. ඒ අම්මලාගෙ ගෙදරට ගියාට පස්සෙ ආයෙ පිරිමි පෙරේතකම එනවා. ඊටපස්සෙ ආයෙ මනුස්සයාගෙ ගෙදර යනවා කියලා ඇවිල්ලා හොර මනුස්සයාගෙ ගෙදර ඉඳලා තමයි මිනිහා ළඟට යන්නෙ. ආයෙ මිනිහා ළඟ ඉන්නකොට හොර මනුස්සයා මතක් වෙනවා. උඹත් එක්ක ඉන්න බෑ ගෙදර යනවා කියලා දැන් තරහ වෙලානෙ යන්නෙ. මගින්

ආයෙ හොර මනුස්සයා ළඟට ගිහින් තමයි යන්නෙ. ඒ සොර සැමියෙක් ඉන්න බිරිඳට ගිහිල්ලා කියන්න කිව්වා ආදාසමුඛ රජ්ජුරුවොත් එක්ක සෙල්ලම් කරන්න හදන්න එපා. ආදාසමුඛ රජ්ජුරුවො නීතිය ක්‍රියාත්මක කරනවා දැහැමින් සෙමෙන් ජීවත් වෙන්න කියලා කියන්න කිව්වා. ඊටපස්සෙ දැන් ඔන්න ඒකත් අහගෙන කිව්වා ගණිකාව ගැන. ඊටපස්සෙ ගණිකාව ගැන කිව්වට පස්සෙ කිව්වා, අර කැඳත් නෑ කියලා කිව්වානෙ. එතකොට ඒකට හේතුව තමයි කිව්වා ගාමිණී ඔය ගණිකාව ඉස්සර තමන් ළඟට එන මනුස්සයෙක්ගෙන් මුදල් ගත්තොත් එහෙම තමන්ගේ සේවය උපරිම විදියට දෙනවා, ඒ වගේම තමයි ඒ මුදල් ගත්තට පස්සෙ වෙන මනුස්සයෙක් එක්ක ඉන්නෑ, දැන් මේ ගණිකාව, මුදල් අරගෙන වෙන කෙනෙකුත් අරගෙන, අර පළවෙනියට මුදල් දුන්න එක්කෙනාට නැතිව දෙවෙනි එක්කෙනා එක්ක ඉන්නවා. ඒ විදියට අර ගණිකාවක් විදියට තියෙන්න ඕන අර ගණිකා ධර්මය ඒ නීති වැඩපිළිවෙලේ මෙයා හික්මෙන්නෑ. ඒ නිසා ප්‍රසිද්ධ ගණිකාවක් විදියට වාසය කරන මේ මෑට කියන්න ආදාසමුඛ රජ්ජුරුවන්ගේ ආඥාව ක්‍රියාත්මක වෙනවා, දැහැමි වෙයන් කියලා. ඊටපස්සෙ ඒකත් අහගෙන ගම් ප්‍රධානියා ගැන කිව්වා. ගම් ප්‍රධානියා දැන් ඔහේ ඉන්නවා කිව්වානෙ ජීවත් වෙනවාට. ඊටපස්සෙ කිව්වා ඔය ගම් ප්‍රධානියා අනිවාර්යයෙන් කලින් හොඳට දැහැමෙන් සෙමෙන් මිනිස්සුන්ට සේවය කලා. එතකොට මිනිස්සු හොඳට මේ මනුස්සයාට අයබදු දුන්නා, ප්‍රීතියෙන් කතා කලා, මේ මනුස්සයා මිනිස්සුත් එක්ක සතුටින් ප්‍රීතියෙන් ඉන්නකොට හොඳට කඩවසම්ව හිටියා. දැන් මේ මනුස්සයා අල්ලස් ගන්නවා. අල්ලස් ගන්න නිසා මිනිස්සු කිපිලා ඉන්නෙ. එතකොට මිනිස්සුන්ගෙන් අයබදු ලැබෙන් නෑ. මේ මනුස්සයා දුකෙන් ඉන්න නිසා කේඳැරී වෙලා ඔහේ ඉන්නවා කිව්වා. ඒ නිසා ඔය ගම් ප්‍රධානියාට කියන්න, ආදාසමුඛ රජ්ජුරුවොත් එක්ක සෙල්ලම් කරන්න එපා, නීතිය ක්‍රියාත්මක වෙනවා, ඒ නිසා දැහැමින් සෙමෙන් ඒ ගම පාලනය කරන ඒවා කරන්න කියලා. ඉතින් පින්වතුනි බලන්න, මේ අවුරුදු හතෙන් විසඳපු ප්‍රශ්න ටික. එතකොට මේ ආදාසමුඛ රජ්ජුරුවො මුළු ජීවිතකාලෙම කොච්චර මිනිස්සුන්ට සේවය කරන්න ඇති ද. ආදාසමුඛ රජ්ජුරුවො ඔය විදියට බොහෝ දෙනාට යහපත සලසලා, නුවණින් කටයුතු කරලා, දැහැමින් සෙමෙන් රාජ්‍යය කරලා දෙව්ලොව ඉපදුනා. ඔය විදියට සසරේ ප්‍රශ්න විසඳලා තියෙනවා අසංඛෙය්‍ය අප්‍රමාණ ප්‍රමාණයක්. ඊළඟට තියෙනවා තව එක ජාතක කතාවක, දුම්මේද කියලා. ඒ කියන්නෙ මේත් රාජ කුමාරයෙක් වෙලා ඉපදිලා. මිනිස්සු ඔක්කෝම දෙවියෝ වදිනවා. ගස් ගල් වලට වැඳ වැඳ

ඉන්නවා. අවුරුද්ද ගානෙ බිලි පූජා දෙනවා. දැන් මහාරජ්ජුරුවො මේකට කිසිම නෑ හැඟීමක් තැකීමක්. ඊළඟට රජවෙන්නෙ කුමාරයා. කුමාරයා කල්පනා කලා කොහොමද මේක නතර කරන්නේ කියලා. ඊටපස්සෙ මේ කුමාරයාත් උයන් කෙළියට යද්දි ලොකු නුග ගහක් ළඟට ගිහිල්ලා නුග ගහට මල් පූජා කරලා වටේ කැරකිලා වැඳලා ගරු කරලා යන්න පුරුදු වුනා. පස්සෙ කාලෙක රජ වුනා. රජ වුනාට පස්සෙ අමාත්‍ය මණ්ඩලය කැඳවලා කිව්වා, අමාත්‍යවරුනි මා රජ වුනේ නිකන්ම නෙවෙයි. භාරයක් වෙලා. එහෙමද රජතුමනි. ඇයි නුඹලා දුටුවේ නැද්ද මං අහවල් නුග ගහට පූජාවල් පැවැත්වුවා අවුරුදු ගාණක්. අනේ දුටුවා. දුටුවා. ඒ නුග ගහේ දේවතාවුන් වහන්සේට මං භාරයක් වෙච්චි නිසා තමයි මට මේ රජකම ලැබුනේ. පේනවා රජතුමනි, පේනවා ඔබ වහන්සේට නම් දේව බැල්ම වැටිලම තමයි තියෙන්නෙ කිව්වා. ඒක තමයි දේවබැල්ම හොඳටම වැටිලා තියෙන්නෙ මට, දැන් මට භාරය ඔප්පු කරගන්න ඕන කිව්වා. ඊටපස්සෙ කිව්වා රජතුමනි අපි ඕනම භාරයක්, නෑ බං මේකට බිලි දෙන්න ඕන. අනේ රජතුමනි අපි ඕනතරම් සත්තු එකතු කරන්නම්. සත්තු නෙවෙයි බං මා භාර වුනේ මිනී බිල්ලක්. මිනිස්සු මරලා දෙනවා කියලා. ඉතින් එහෙනම් රජතුමනි අපි හිරෙන් හරි ගමු කට්ටිය කිව්වා. නෑ නෑ මං භාර වුනේ යම්කිසි කෙනෙක් පස් පව් දස අකුසල් කරනවා නම්, ඒ වාගේ මිනිස්සු දාහකගේ බඩබොකු වලින් නුග ගහ වෙලනවා කියලා තමයි භාර වුනේ. ඒ උන්ගේ හදවත් ටික මල් වට්ටි වගේ නුග ගහ වටේ තියනවා කියලා භාර වුනේ. මට ඒක ඔප්පු කරගන්න ඕන. මට මේ රාජ්‍යය ලැබුනේ එහෙම. මේ ඇමැතිවරුන් සීතල වෙලා ගියා. ඊටපස්සෙ කිව්වා එහෙනම් දැන් අණබෙර යවන්න අද ඉඳලා පස් පව් දස අකුසල් කරන අය දාහකගේ බොකු බඩවැල් වලින් බිල්ලක් දෙන්න රජතුමා බාර වෙලා ඉන්නවා, අද ඉඳලා ඒවා කරන එක්කෙනෙක් ඉන්නවා නම් ඉක්මණට රාජමාළිගාවට ඇදගෙන එන්න කියලා. එදා ඉඳලා ඒ රජතුමා මිය යනකල් පස්පව් දස අකුසල් කරලා නෑ ඒ රාජ්‍යයේ. කොහොමද මොළේ. කොහොමද නුවණ. දැන් ඒක බොරුවක් වෙන්නෑ, ඒවා සමයප්‍රයෝග. ඒවා බොරුව නෙවෙයි, ඒක සමයප්‍රයෝග. අකුසල් දුරු කලා. බොහෝ දෙනාට යහපත සැලසුවා. ඉතින් ඒ නිසා මේ ඔක්කෝම කලේ නුවණින්. ඔය විදියට නුවණින් මනුස්ස වර්ගයාට යහපත හද හදා ඒ නුවණ මුහුකුරා, මුහුකුරා ගිහිල්ලා ලොව්තුරා සර්වඥතා ඥාණයටම හිත වැඩුනා. ඒ නිසා කිසි කෙනෙකුට ළංවිය නොහැකි විදියට ප්‍රඥා පාරමිතාව පිරුවා. බුදුරජාණන් වහන්සේ සසරේ පිරූ ප්‍රඥා පාරමිතාව වචනයෙන් කියනවා නම් රැයක් එළිවෙනකල් කියන්න වුනත් පින්වතුනි,

ඕනතරම් මේ විස්තර තියෙනවා. එනමුත් බුදු කෙනෙක්ගේ ගුණ නම් කියලා නිම කරන්න බෑ. ඒ නිසා පහදින්න සිත. බෝසත් කාලෙ එවැනි ප්‍රඥා සම්පත්තියක් තිබ්බා නම් නව අරහාදී බුදු ගුණයෙන් යුතු, දස බල ඥාණ තුළ, විශාරද ඥාණ තුළ, සර්වඥ ඥාණ තුළ, අසාධාරණ ඥාණ තුළ සියලූම නුවණ ත්‍රිවිද්‍යා තුළ වැඩ සිටි අපේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ බුදු නුවණ කොහොම වෙන්න ඇතිද. අසිරිමත් සම්බුදු නුවණින් වැඩ සිටින ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. ඉතින් ඒ අසිරිමත් සම්බුදු සරණ ඔබට සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ජනක අමරසිරි මහත්මයා, තිසායා අමරසිරි මහත්මිය, කුමුදු අමරසිරි සහ දිමුතු අමරසිරි යන පින්වත් පිරිස විසින්. ඉතින් අපි පළමුවෙන්ම සෙත් ප්‍රාර්ථනා කරමු අපි අද දවසේ රැස් කරගත්තු පින් බලයේ අනුහසින් ඒ වගේම භාග්‍යවතුන් වහන්සේගේ අසිරිමත් ප්‍රඥාවේ අනුහසින් සම්බුදු සරණින්, මේ ලක්දෙරණටත් ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ වසංගතය දුරින්ම දුරු වේවා. මනුස්ස වර්ගයාට යහපත වේවා, මේ ලක්දෙරණ සුරැකේවා කියලා පළමුවෙන් සෙත් ප්‍රාර්ථනා කරමු. පින් කැමැති සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා, දෙවියන්ගේ දිව්‍ය යස ඉසුරු වඩා වර්ධනය වෙත්වා. පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වන දෙවියෝ මේ පින්වතුන් සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා අපි පින් අනුමෝදන් කරනවා. ඒ වාගේම මැයි 22 වෙනි දිනට මියපරලොව ගිහින් වසර හතක් සපිරෙන මාලනී සමරවීර මැණියන්ට මේ සියලු පින් අනුමෝදන් වේවා. ඒ වගේම මියපරලොව ගිය ධනපාල සීයාට මේ පින් අනුමෝදන් වේවා. රොසලින් ආච්චි අම්මාට පින් අනුමෝදන් වේවා. මියගිය සියලු ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පරමපූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ ගැන මෙච්චර අපිට දැනගන්න ලැබුනේ. පින්වතුනි ඉතිපිසෝ ගාථාවේ අර්ථයවත් දන්නෙ නැති මිනිස්සු ලංකාවේ හිටියේ. බුද්ධං සරණං ගච්ඡාමි කියන එක දන්නැති මිනිස්සු හිටියේ. පන්සිල් පද පහ ඇහෙන්න කියන්නැති මිනිස්සු හිටියේ. ඉතින් ඒ සමාජය වෙනස් කරලා මේ බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු නුවණ මේ ලෝකෙටම කියලා දෙන්න උන්වහන්සේ මුල් වුනේ. ඒ උත්තමයන් වහන්සේ

නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. සියලු සඟරුවන, සිල්මෑණිවරු, පැවිදිවෙන්න ඉන්න දරුවන්, සියලු දෙනාට ගෞතම සසුනේ ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම සුජීවත්ව සිටින අමරසිරි පියාණන්ටත්, නිහාල් පියාණන්ටත්, චාන්දනී මෑණියන්ටත්, නවිඳුලා දියණිය ඇතුළු පවුලේ සියලු දෙනාට නිදුක් නිරෝගී සුවපත් භාවය මේ පින් බලයෙන් සැලසේවා. ජනක අමරසිරි මහත්මයා, තිසායා අමරසිරි, කුමුදු අමරසිරි සහ දිමුතු අමරසිරි යන පින්වතුන්ට මේ පින් අනුමෝදන් වී අද දවසේ අසිරිමත් ප්‍රඥා සමුදාය ලක්ෂ සංඛ්‍යාත පිරිසකට අහන්න සැලැස්වීමේ පින මේ ඇත්තන්ටත් ප්‍රඥා සම්පත්තිය පිණිසම හේතු වාසනා වේවා. මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත්, ගුරුවරු සියලු දෙනාටත්, ධර්මය ඇසූ ඔබ සියලු දෙනාටත්, ලක්විරු ගුවන්විදුලියේ, ශ්‍රද්ධා රූපවාහිනියේ සියලු දෙනාට මේ පින් බලයෙන් උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගැනීම පිණිස ප්‍රඥා ඇස පහළ වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=qadrF7CFje0&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=10

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන අද පැවැත්වෙන්නෙ. මීට කලින් බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ගුණ කඳ

පිළිබඳව අපි නොයෙක් ආකාරයෙන් ඉගෙන ගත්තා. දැනුත් අපි ඒ පිළිබඳව තමයි ඉගෙන ගනිමින් පවතින්නේ. අද අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඇඹිලිපිටිය, කොළොන්න පදිංචි පින්වත් ප්‍රියංකා විජේසිංහ මහත්මිය විසින්. මැයි පළවෙනිදාට මාස තුනක් පිරෙන සමන් මංගල සෙනෙවිරත්න සහෝදරයාට පින් අනුමෝදන් කරන්නටත්, ඒ වාගේම මැයි පළවෙනිදාටම උපන්දිනය සමරන චින්තක සමීර ස්වාමිපුරුෂයාට සෙත් ප්‍රාර්ථනා කිරීමත් අරමුණු කරගන්නවා. ඉතින් මියපරලොව ගිය සමන් මංගල සෙනෙවිරත්න මහත්මයා බොහෝ කාලයක් ධර්ම දානයක් දෙන්න අපේක්ෂාවෙන් හිටියේ කියලා මතක් කරලා තිබෙනවා. ඉතින් බොහෝ කාලයක් ධර්ම දානයක් දෙන්න කැමැත්තෙන් ඉඳලා තියෙනවා, නමුත් ඒ අතරේ තමයි එතුමා නැතිවෙලා තියෙන්නෙ. දැන් මැයි පළවෙනිදාට මාස තුනක් පිරෙනවා. ඉතින් ඒ නිසා ඒක තමයි ජීවිතේ තියෙන, පින්වතුනි අපි නොසිතන ස්වභාවය. එක එක්කෙනාට නොසිතූ විදියට මරණය කැන්දනවා. අපි සමහර වෙලාවට මේ බලන්න මේ සසරේ ස්වභාවය, මේ දරුවා ධර්ම දානයක් දෙන්න බලාපොරොත්තුවෙන් හිටියා. ඊළඟට විශේෂයෙන් මා ලවාත් ධර්මයක් කියවන්න ආසාවෙන් ඉඳලා තියෙනවා කියලා සඳහන් කරලා තිබෙනවා. නමුත් එයාගේ ප්‍රාර්ථනාව ඉෂ්ට වෙන්නෙ එයාත් මැරිලා මාස තුනකුත් ගියාට පස්සෙ. ඒ වාගෙ මේ සසරේ ස්වභාවය. සමහර විට මේ අපි හිතන දේවල්, මේ මනුස්ස ලෝකෙ අපි කරගන්න හිතන දේවල් අපි මැරිලා බොහෝ කාලයක් ගියාට පස්සෙ තමයි කෙරෙන්නෙ. ළමයි දොස්තරලා වෙනවා, ඉංජිනේරුවො වෙනවා, කරන්න අම්මලා මහන්සි වෙනවා. සමහර විට ඒ අය දොස්තරලා වෙනකොට මේ අම්මලා නෑ. තාත්තලා නෑ, ඔහොම තමයි සසර. උපන් සත්ත්වයාට ජීවිතේ රැකගන්නවා කියන එක ලේසි දෙයක් නෙවෙයි. ඒ නිසා මේවා තේරුම් ගන්න. තේරුම් අරන් පිනට නම් ප්‍රමාද වෙන්න නම් එපා. තමන්ගේ හිතට පින් සිතුවිල්ලක් ආවොත් ඒ පුණ්‍ය සිතිවිල්ල ශක්ති පමණින් සඵල කරගන්න. පින් අනුමෝදන් වෙන්න. ඉතින් ඒ නිසා ඒක තමන්ට බොහෝ කාලයක් යහපත පිහිට පිළිසරණ පිණිස පවතිනවා. දැන් මේ දරුවාට යහපත් සිතිවිල්ලක් තිබ්බ නිසා අද ධර්ම දේශනාව ආරම්භයේම ඒ සිතිවිල්ල පවා අපි සිහිපත් කරනවා, ඒක යහපත් දේ නිසා. ගොඩාක් මිනිස්සු මැරෙන්නෙ අයහපත් සිතිවිලි වලින්. ඉතින් මනුස්සයාගේ සිතිවිලි තුළට බුදුරජාණන් වහන්සේ ගැන හිතන එක එකතු වුනොත්. ධර්මය ගැන හිතන එක එකතු වුනොත්, සංඝරත්නය ගැන හිතන එක එකතුවුනොත්. මේ චරියාපිටක පාලියේ

වෙනමම දක්වලා තියෙන්නේම බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ ගොඩාක් හිතන්න. මේකෙ මම දැක්කා මේ විස්තර කිරීම් වල තියෙනවා වැඩි වැඩියෙන් බුදු ගුණ හිතන්න හිතන්න හිතේ පව් ගොඩාක් ඈතට වෙලා යනවා. මේ බුද්ධානුස්සතිය කියන්නෙ ආලෝකයක්. හිත පිරිසිදු කරන දෙයක්. මේක තමයි වතුර නැතිව නානවා කියලා කියන්නෙ. මේ හිත පිරිසිදු කරන ක්‍රමය. එතකොට මේ හිත පිරිසිදු වෙන මේ අරමුණ මේ බුද්ධානුස්සතිය එයාගෙ හිතේ යම් යම් විදියකටද පිහිටන්නෙ අපිරිසිදු බව ඒ ඒ අනුව නැතිවෙලා යනවා. රාගයෙන් ද්වේෂයෙන් මෝහයෙන් හිත කිළිටි වුනා කියන්නෙ හිතේ තියෙන්නෙ ලොකු අඳුරක්. කෙලෙස් වලින් හිත කිළිටි වුනා කියන්නෙ ලොකු අඳුරක් හිතේ තියෙන්නෙ. හැබැයි ඒ අඳුර බාහිර අඳුරට වැඩිය ගොඩාක් කළුවරයි. රාගයක් ආවට පස්සෙ මොනවද කරන්නෙ කියන්නෙ කියලා තේරෙන්නෑ, ද්වේෂයක් ආවට පස්සෙ මොනවද කරන්නෙ කියන්නෙ කියලා තේරෙන් නෑ, රෑ වුනාට පස්සෙ කොහෙද යන්නේ කියලා තේරෙන් නෑ. සමහර මිනිස්සු මෝහය කියන එක, මට ළඟදිනුත් දැනගන්න ලැබුනා එක එක විදියට, සමහර මිනිස්සු එක එක යැදීම් වල යෙදී වාසය කරනවා. සමහර අය එක එක දෙවි දේවතාවුන් වහන්සේලා අදහනවා. සමහරු මෛත්‍රී බුදුරජාණන් වහන්සේ වෙන කෙනා දැන් මනුස්ස ලෝකෙ ඉන්නෙ කියලා උපස්ථාන කරලා අනේ අපිවත් නිවන් අරගෙන යන්න කියනවා. අතට පත්වූ ගෞතම බුද්ධ ශාසනේ අතහැර ඈත තියෙන මෛත්‍රී බුද්ධ ශාසනයක් ගැන හිත පිහිටවගෙන ඉන්නවා, මේ අවස්ථාව මගහැරලා. දැන් සරණේ පිහිටන්නැතිව. කතාවටත් තියෙනවා දුවන මුවන් දැක නොදපන් නෙලූ පලා කියලා. අවසානේ නෙලපු පලාවත් නෑ, මුවත් නෑ. ඒ වගේ ඇත්තටම තථාගත මෛත්‍රී බුද්ධ ශාසනේ ගොඩාක් අයට ධර්මය අවබෝධ වෙන බව හැබෑව. මෛත්‍රී බුදුරජාණන් වහන්සේගේ බුදු කරුණාවෙන්, අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ වගේමයි. ඒ බුදු කරුණාවෙන් සකල ලෝක සත්ත්වයාගේ දුක් ගිනි නිවන බව සැබෑවයි. නමුත් පින්වතුනි මෛත්‍රී බුද්ධ ශාසනයට යන්න අතරට ලොකු කාලයක් අපිට තියෙනවා. මේ මහපොළොව ගව් හතක් වැඩෙන්න ඕන උඩට. මහපොළොව ගව් හතක් වැඩෙන්න ඕන. මනුස්සයාගේ ආයුෂ අවුරුදු දහයට අඩුවෙලා, ආයෙ ක්‍රම ක්‍රමයෙන්, ක්‍රම ක්‍රමයෙන් අවුරුදු අසූදාහට වැඩෙන්න ඕන. ඒ අසූදාහට වැඩිච්ච තැන තමයි මෛත්‍රී බුදුරජාණන් වහන්සේ පහළ වෙන්නෙ. ඉතින් දැන් මේ ගෞතම බුද්ධ ශාසනයේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ගුණ කඳ හදවතේ පුරවගන්නැතිව, තවත් බුදුරජාණන්

වහන්සේගේ ශාසනයේ කොහොම නම් වැඩෙන්නද. මේ බුද්ධ ශාසනයේ ප්‍රතිපත්තියේ යෙදෙන්නැතිව මොකටද කුමක්ද හේතුව මෛත්‍රී බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නේ මේ ධර්මයමයි. තිසරණ සරණ යන්න. පඤ්චසීලය ආරක්ෂා කරන්න. ඊළඟට කාමයේ ආදීනව දකින්න. නෙක්ඛම්මය පුරුදු කරන්න. ඊළඟට සීල, සමාධි, ප්‍රඥා පුරුදු කරන්න. ඉන්ද්‍රිය සංවරය පුරුදු කරන්න. මේ විදියටයි ඒ තථාගතයන් වහන්සේත් අවවාද කරන්නෙ. මෛත්‍රී බුදුරජාණන් වහන්සේත් ඉස්සෙල්ලාම දේශනා කරන්නේ ධම්මචක්කයමයි. ඉතින් ඒ නිසා එකම ධර්මයක් ඒ බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ. ඉතින් දැන් මේ තියෙන ධර්මය අවබෝධ කරගන්න යම් මහන්සියක්වත් වෙන්නැතිව, ඒ තවත් අනාගත බුද්ධ ශාසනයක් ප්‍රාර්ථනා කිරීම තුළ මේ ප්‍රඥාව කියන එකේ යම් ගැටළුවක් තියෙනවා. හේතුව, පින්වතුනි, අපි යම් තිසරණය පුරුදු කළොත්, දැන් මං කිව්වෙ තිසරණය පුරුදු කරපු අය අපේ බුද්ධ ශාසනයේ සරණ දෙනකොටම මගඵල ලබලා තියෙනවා. දැන් ඛේමා රහත් තෙරණිය සංසාරයේ නිධාන සූත්‍රය, පටිච්ච සමුප්පාද නිධාන සූත්‍රය නිතර ශ්‍රවණය කර කර පුරුදු කර කර ඉඳලා තියෙනවා. අපේ බුද්ධ ශාසනයේ මහා නිධාන සූත්‍රය අහනකොටම අර්හත්වයට පත්වුනා. දැක්කද දැන් පුරුදු කරන දේ තමයි ඊළඟ බුද්ධ ශාසනයක තමන්ට අවබෝධයක් කරා ගෙනයන්නෙ. දැන් මගහැරියොත්, දැන් අතහැරියොත් ඒ පුරුද්ද යනවා ඒ ශාසනයටත්. ඒ ශාසනයෙත් තවත් ශාසනයක් පතනවා. ඒ නිසා මෛත්‍රී බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පිහිට ගන්න කැමැති අයත්, කළයුත්තේම මේ ගෞතම බුද්ධ ශාසනයේ පිළිසරණ හදාගන්න එකමයි. මේ ගුණධර්ම ලේසියෙන් දියුණු කරගන්න බෑ. මේ ගුණධර්ම දියුණු කරන්න ප්‍රඥාවත් තියෙන්න ඕන, සිහියක් තියෙන්නත් ඕන, ඒ වගේම වීර්යයක් තියෙන්නත් ඕන. මේ දහම් මගට කෙනෙක් ප්‍රවේශ කරවන්නෙ ඒ වීර්යය, සිහිය, නුවණ උපදින තැනට ප්‍රවේශ කරන්නෙ, ඒ කියන්නෙ මේ වැඩපිළිවෙලට යම්කිසි දොරටුවකින් යන්න එපෑ. ඒ දොරටුව තමයි තිසරණය. ඒ සරණ ලබලා දෙන්න තමයි මෙච්චර දෙයක් කරන්නෙ. ඉතින් ඒ නිසා ඒ සරණෙන් ලැබෙන ගුණධර්ම ඉදිරියට පවත්වන්න වීර්යය තියෙන්න ඕන. ඒ වීර්යය ඇතිකරගන්න වීර්යය අප්‍රමාණව වැඩූ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ යන්න ඕන. දැන් අද අපි කතා කරන්නේ වීර්යය පාරමිතාවයි. අපි මේ වෙනකොට දාන පාරමිතා, සීල පාරමිතා, ඊළඟට නෙක්ඛම්ම පාරමිතාව, පඤ්ඤා පාරමිතාව ගැන කතා කලා. අද කතා කරන්නෙ වීර්යය පාරමිතාව. අපේ බුදුරජාණන් වහන්සේගේ

විශේෂයක් තියෙනවා පින්වතුනි. අපේ බුදුරජාණන් වහන්සේගේ තියෙන විශේෂය තමයි වීර්යයාධිකව පාරමී පුරපු සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක්. ඒකයි මෛත්‍රී බුදුරජාණන් වහන්සේ පෙරුම් පිරුවා සොළසාසංඛෙයය කල්පයක්. කල්ප, අසංඛෙයය කල්ප දාසයක්. අපේ බුදුරජාණන් වහන්සේ අසංඛෙයය කල්ප හතරකුත් ලක්ෂයයි. එතකොට අපි බුදුරජාණන් වහන්සේලා පෙරුම් පිරූ කාලසීමාව දිහා බලනකොට අපේ බුදුරජාණන් වහන්සේ තමයි කියනවා කෙටි කාලෙකින් සම්මා සම්බුදු වුනේ. හේතුව වීර්යය අධිකයි. ඇයි අපේ මහා බෝධිසත්ත්වයෝ මච්ගෙන් විවරණ ගත්තෙත් වීර්යය කරද්දිනෙ. මච්ට සළකන පුත්‍රයා අතීතයේ ඒ යොවුන් පුතා මුහුදේ වෙළඳාමේ යනවා. මව් රැගෙන යනවා පින්වතුනි තමන්ගේ අම්මා වෙළඳාමේ යනකොට ගෙන්නගෙන යනවා තනිකරලා යන්න බෑ කියලා. මේවා පින්වතුනි සුරංගනා කතා නෙවෙයි. අපේ ලංකාවෙම ඉඳලා තියෙනවා එක පුතෙක් අම්මට සළකා සළකා මෙයා කුලී වැඩ කරන මනුස්සයෙක්, කුලී වැඩට යන්න බෑ අම්මා අංශභාගෙ හැදිලා එක තැන. මෙයා අවසානෙ මොකද කරලා තියෙන්නෙ, රෙදිවලින් උරයක් හදලා අම්මා ඒ රෙදි උරේ දාගෙන කරේ එල්ලගෙන තමයි කුලී වැඩට ගිහිල්ලා තියෙන්නෙ. ඊටපස්සෙ අම්මව වෙනම පැත්තකින් තියලා එයා කුලී වැඩ කරනවා. එයාට හම්බෙන තේ කහට එක අම්මට දෙනවා. වැඩ කරන තැනින් එයාට හම්බෙන බත් ඩිංගිත්ත අම්මට දෙනවා. එහෙම මවුන් පෝෂණය කරපු දරුවෝ ගැන අපේ වංශ කථා වල තියෙනවා මේ ලංකාවෙ. තමන් යන යන තැනට කරේ එල්ලගෙන ගිහිල්ලා තියෙනවා අම්මා. එහෙමනම් මවුන් නැවේ යද්දි රැගෙන ගියා වෙළඳාමේ උපස්ථාන කරන්න. නැව පෙරළුණා. පෙරළුණාට පස්සෙ වතුරේ පාවෙන ලෑල්ලෙ අම්මා කෝ කියලා හොයනකොට ඈත උඩට ඉලිප්පෙනවා. ලෑල්ල අත්හැරලා ඉක්මණට අම්මාව සොයාගෙන ගියා. මවුන් කරට ගෙන සුයරුතෙරේ පීනනවා පුතා. එකදිගට පීනනවා. එතකොට කරට අරගෙන පීනනවා. තනියෙන් පීනනවා කියන එක තව එකක්. මවුන් කරේ තියාගෙන පීනනවා කියන එක තව එකක්. ඉතින් ඒ නිසා මේක හිතාගන්න පුලුවන් දෙයක් නෙවෙයි. පීනනවා කියන එක දන්නෙ වතුරට බැහැපු මනුස්සයෙක්. තවත් කෙනෙක් කරේ තියාගෙන පීනනවා කියන එක දන්නෙ එහෙම දෙයක් කරපු කෙනෙක්. එක දවසක්ද. දවස් දෙකක්ද, දවාලෙ විතරද, රෑ විතරද, දිවා රාත්‍රී, අතරතුර විවේකයක් තියෙනවාද. ආශ්චර්‍යයයි, අද්භූතයි. මච්න් කරට අරන් දින හතක් පීනනවා. මේ සාගරයට අධිගෘහිත දෙවිවරු කම්පා වෙනවා. සක්දෙවිඳුගේ ආසනය උණු වී යනවා. සකල ලෝක ධාතු වල

දෙවිවරු එක මොහොතෙම දිවැස් හෙළනවා. දවස් හතක් මවුන් කරට අරගෙන පීනන පුතාට. ගොඩබිමක් ළංවුනා. ගොඩබිමට අම්මයි පුතයි සේන්දු වුනා. එහේම්මම පුතාට සිහිය නැතිවුනා. අම්මා ඔඩොක්කුවේ පුතාගෙ ඔළුව තියාගෙන පුතාගෙ ඔළුව අත ගගා අම්මා ඉන්නවා. පුතා මගේ රත්තරන් පුතා කිය කියා. ආකාසයේ දෙවිවරු පහළ වුනා. පහළ වෙලා කිව්වා පුත්‍රය නුඹ වාගේ අය තමයි ලොව්තුරා සම්බුදු වෙන්න සුදුසු කිව්වා. ඊටපස්සෙ අර අම්මත් ඔළුව අත ගගා කියනවා පුතා නුඹත් ලොව්තුරා සම්බුදු වෙයන්. ඒ කියන්නෙ දවස් හතක් කරේ තියාගෙන පීනපු පුතාට අම්මට දෙන්න තියෙන එකම ආශිර්වාදය. පුතා නුඹ ලොව්තුරා සම්බුදු වෙනින්. ආන්න මනෝ පනිධාන, චිත්ත පනිධාන, වචී පනිධාන, වාග් පනිධාන ඔක්කොම හටගන්න හැටි. ඒ ලොව්තුරා සම්බුදු වෙන්න ඕන කියන බීජය කිඳා බැස්සා. එතකොට සම්බුදු වෙනවා කියන අදහස එකතු වුනේ වීර්යයත් එක්ක. මේ සකල ලෝක ධාතුවේ දෙවිවරු සලිත වුනේ වීර්යයත් එක්ක. ඒකයි අපේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ වෙනස. වීර්යයත් එක්කම එකතු වුනේ. ඊටපස්සෙ වීර්යය මුල් කරගෙන විවරණ ලබලා අසංඛෙය්‍ය දාසයක් ඒ සම්බුදු බව ගැන ප්‍රාර්ථනාව හිතේ තියාගෙන ඉඳලා තමයි දීපංකර පාද මූලයේ විවරණ ලබන්නෙ. ඉතින් විවරණ ලැබුවාට පස්සෙ උන්වහන්සේ කරන වීර්යය කොහොම වෙන්න ඇතිද. දානයක් පාරමිතාවක් දක්වා උපරිමයට ගෙනියන්න කොච්චර වීර්යයක් ඕනද. දෙන දානෙ අතරමග නතර කරන්නැතිව මුළු ජීවිත කාලෙම දාන පාරමිතාව පුරන්න කොච්චර වීර්යයක්ද. ඊළඟට සීලය එක දිගට ආරක්ෂා කරන්න කොච්චර වීර්යයක්ද. ඉවසාගෙන ඉන්න කොච්චර වීර්යයක්ද, අනපය කපද්දි. ඊළඟට නුවණ මෙහෙයවන්න කොච්චර වීර්යයක් ඕනද. එතකොට මේ විදියට සෑම පාරමිතාවකටම එකතු වෙච්චි දෙයක් තමයි වීර්යය කියන්නෙ. වීර්යය කියන්නෙ අකුසලයට වැටෙන්න දෙන්නෑ කුසලය උපද්දවනවා. උපන් කුසලය වැටෙන්න දෙන්නෑ කුසලය දියුණු කරනවා. අකුසල් බැහැර කර කර කුසල් උපදවන එක තමයි වීර්යයේ ස්වභාවය. කුසලයට වැටෙන්න දෙන්නැති එක තමයි වීර්යයේ ස්වභාවය. අපි කියමු වැටෙන්න තියෙන බිත්තියට කරුවක් ගහනවා. එතකොට ඒ කරුව මුල් කරගෙන බිත්තිය වැටෙන්නැතිව තියෙනවා. ඒ වගේ තමයි දානය කියලා කුසලයක් තියෙනවා, සීලය කියලා කුසලයක් තියෙනවා, භාවනාව කියලා කුසලයක් තියෙනවා, මෛත්‍රිය කියලා කුසලයක් තියෙනවා. ඒක වැටෙන්න දෙන්නැතුව ඉදිරියට පවත්වන්නෙ, ඒකට දීලා තියෙන උපකාරක ධර්මය තමයි වීර්යය. යම්

අපිට සිල් රකින්න බෑ කියලා කියන්නෙ, එතන ඇත්තටම තියෙන්නේ වීර්යයේ ප්‍රශ්නයක්. මොකද එයා සිල් රකින්න කැමැතියි, එයා සිල් රකින විදිය දන්නවා. එතකොට එයා රකින සීලය වැටෙනවා. එතකොට එයාට මේක වැටෙන්නැතිවෙන්න මෙයාට මුක්කුවක් නෑ, වීර්යයක් නෑ. එතකොට ඕනම සීලයක් නොකඩවා එකදිගට පවත්වාගෙන යන්න උපකාරී වෙන්නෙ වීර්යය. ඒ නිසා මේ වීර්යය පාරමිතාව මහා බෝධිසත්ත්වයෝ සංසාරේ පුරලා තියෙන විදිය ඒ වීර්යයත් එක්කම ප්‍රඥාව මුහුවෙලා හරි පුදුම සහගත විදියට. දැන් ඔබ කවුරුත් දන්න ජාතක කතාවක් කියන්නම්, වණ්ණුපථ ජාතකය. වණ්ණුපථ ජාතකයේදී ඒ කරත්ත ගැල් කරුවන්, ආපහු දවසක් තියෙද්දින් එක තැනක නතර වුනා, වතුර නෑ. ඊටපස්සෙ දැන් වතුර නැති කාන්තාරයේ සියලුම ගැල් වල වතුර ඉවරයි නම් එතනින් එහාට ආයෙ මනුස්සයන්ට හිතන්න දෙයක් නැනෙ, මැරෙන්න, මරණයේ කැමැත්තෙන් ඉන්න ඕනනෙ. ඒත් මහා බෝධිසත්ත්වයෝ හැම තැනම ඇවිදිනවා. ඇවිදලා කල්පනා කළා ඊතණ පඳුරක් තියෙනවා. මේ කාන්තාරෙක කොහොමද ඊතණ පඳුරක් ආවෙ. අනිවාර්යයෙන් ඊතණ වල මුල් ගොඩාක් දුරට යනවා. අනිවාර්යයෙන් මෙතන වතුර තියෙන්න පුලුවන්. දැන් බලන්න නුවණ. මනස වැටෙන් නෑ. දැන් හාස්හූස් ගාලා ප්‍රශ්නයක් වෙච්චි ගමන් කිසිම විකල්පයක් නැතිව මිනිස්සු වැටෙනවානෙ. සියලු අපේක්ෂා අත්හැරගෙන වැටෙනවානෙ මිනිස්සු. නැගිටින්න පුලුවන් කියන තැනකට එන්නෑනෙ. එතකොට මහා බෝධිසත්ත්වයෝ වටේපිටේ කල්පනා කලා. කල්පනා කරනකොට දැක්කා ඊතණ ගහ. කුසතණ ගහ. ඊටපස්සෙ කල්පනා කලා මෙතන වතුර ඇති. අනිත් අයට කිව්වා උඹලා බයවෙන්න එපා. වතුර තියෙනවා. මෙතන හාරපල්ලා. අන්න වීර්යය දෙනවා අනිත් අයට. ඊටපස්සෙ එතන හිටපු හැඩිදැඩි පුරුෂයෙක් ළිඳ හෑරුවා. ගල් තලාවක් මතුවුනා, අනිත් ඔක්කෝම වැටුනා මොන වතුරද කියලා. ඒත් නෑ, දැක්කද, දැන් වීර්යය කියන්නෙ අතේ පයේ හයියම නෙවෙයි. දැන් මහා බෝධිසත්ත්වයෝ ඉන්නෙ ගොඩනෙ. එයා තමයි වීර්යය දෙන කෙනා. ඊටපස්සෙ කිව්වා බයවෙන්න එපා, පොඩ්ඩක් හිටපල්ලා. ළිඳට බැස්සා. ගලට කණ තියාගෙන හිටියා. ලාවට ගල ගල හඬ ඇහෙනවා. වතුර ගලාගෙන යනවා. කිව්වා උඹලා බයවෙන්න එපා. එම්බා පුරුෂය වරෙල්ලා. මෙන්න මේ ගලට ගහපල්ලා කුළුගෙඩියෙන්. දැන් දෙකක් තුනක් ගහනකොට ගල දෙබෑ කරගෙන රියන් ගාණක් උසට වතුර විද්දා. මිනිස්සු සැනහුනා. ප්‍රඥාව වීර්යය ඔක්කොම, වීර්යය කියන්නෙ ඇඟේ හයිය විතරක් වුනාට පස්සෙ දැන් අපි කියමු

කුඹුරක් කොටන්න කිව්වාම ඒක කොටාගෙන යනවා. නියරවල් කොහෙද, තමන්ගෙ ඉඩම කොහෙද ඒවා මොනවත් ඒකට ගාණක් නෑ. එතකොට ඒ මනුස්සයාට ඇඟේ හයිය විතරයි මොළේ නෑ, ඉතින් නුවණ තියෙන්න ඕන. ඒ ඔක්කොම මුහු වෙනවා. ඊටපස්සෙ ඊළඟට හොඳටම වීර්යය ගැන තේරෙන එකක් තමයි අපේ මහා බෝධිසත්ත්වයෝ අතීතයේ රජ කෙනෙක්ගේ රාජ රථයේ අජානේය අශ්වයෙක් වෙලා ඉපදුනා. එතකොට අජානේය අශ්වයෝ දෙන්නෙක් රථයට යොදලා තියෙනවා. ඒ කාලයේ යුද්ධයක් ඇතිවුනා. යුද්ධයක් ඇතිවුනාට පස්සෙ රජ්ජුරුවො කිව්වා කොහොමද අපිට දැන් දිනන්න පුලුවන් තත්ත්වයක් තියෙනවාද. ඇමතිවරු කිව්වා, අපේ අජානේය අශ්වයෝ දෙන්නයි රථයයි තියෙනකල් රජතුමනි යුද්ධ වලට බයවෙන්න එපා කිව්වා සේනාව නැතත්. එච්චර අසිරිමත් ඒ අජානේය අශ්වයන්ගේ වේගය සහ සතුරා කරා ළංවීම. ඊටපස්සෙ පින්වතුනි ඔන්න යුද්ධයට ගියා. යුද්ධෙට ගිහිල්ලා ඔන්න පළවෙනි සේනාව විනාශයට පත්කරලා දැන් අජානේය අශ්වයො තමයි වේගයෙන් දුවන්නේ. ගහන්න ඕන තැනට යන්නත් දන්නෙ එයාලා. ඔහොම යනකොට එකපාරටම ආපු දරුණු පහරකින් බෝසත් අජානේය අශ්වයාගේ ශරීරය පසාරු වුනා. ඒ ලේ ගල ගලා ඒ සේනාව පන්නලා රාජ මාළිගාවටත් ආයෙ ඇවිල්ලා කරත්තෙන් ලිස්සට පස්සෙ තමයි කලන්තෙ දාලා වැටුනෙ. එච්චර හිතේ හයිය. ඊටපස්සෙ ඉක්මණට සෙන්පතියා මෙයාගේ සන්නාහය ලිහලා තවත් අශ්වයෙක් ගේන්න නියෝග කලා. ඉක්මණට ගේන්න, දැන් දෙවෙනි සේනාව එනවා, ඒකට ගහන්න ඕන, දැන් මොකද කරන්නෙ. එතකොට අර අජානේය අශ්වයාට ඇහුනා ඒක. ඇහිලා කල්පනා කලා වෙන වෙළඹක් ගෙනල්ලා මේකෙ ගැට ගැහුව ගමන් අජානේය අශ්වයෙකුයි වෙළඹකුයි ගැට ගහපුවාම ගැලපෙන්නෑ, එක ජවයකින් යන්න බෑ, යුද්ධෙ කරන්න බෑ, අපේ රට ආපහු සතුරන්ට යටත් වෙනවා. ඒ නිසා, මේ බලන්න සත්තු තුලත් යම්කිසි කල්පනාවක් තියෙනවානෙ පින්වතුනි, අපිට තේරෙන්නැති වුනාට. යම් කල්පනාවක් තියෙනවා. මොනවාහරි ඒ සත්තුත් හිතනවා. ඊටපස්සෙ එයා අර අශ්වයාට අනිත් අශ්වයාට කිව්වා මේ මේ යුද්ධෙ කරන්න නම් අනිවාර්යයෙන් මාව ගෙන්නන් යන්න වෙළඹක් ගැට ගහන්න එපා මේ කරත්තෙ කියලා. මේ රථයේ. ඉතින් එහෙම කතා කරනකොට සෙන්පතියාට මේක තේරුනා. සෙන්පතියා කලේ ඒක තේරිලා හරි පොඩ්ඩක් ඉන්න කියලා අර ඖෂධ ගල්වලා හොඳට රෙදිවලින් අජානේය අශ්වයා වෙළලා ආපහු නැගිට්ටවලා ආපහු සන්නාහය ඇන්දෙව්වා. ආයෙ තේජස ආවා. යුද්ධෙට

ගියා. මුළු සම්පූර්ණයෙන්ම සතුරු සේනාවම රාජ්‍යයෙන් පන්නලා ආපහු එන්නැති මට්ටමට පත් කරලා තමයි ආපහු රජ මාළිගාවට ඇවිල්ලා ආයෙ කලන්තෙ දාලා වැටුනා. එතකොට හිතාගන්න පුලුවන්ද මේ ඇඟ පසාරු කරගෙන ආයුධ ගිහිල්ලා තියෙද්දි ආපහු එහෙම යන්න වීර්යයක් ශක්තියක් තිරිසන් සත්ත්වයෙක් අතර තිබ්බා නම් මනුස්ස ලෝකෙ ඉදීම ගැන කවර කතාද මහා බෝධිසත්ත්වයන්ගේ වීර්යය. ආශ්චර්යයයි, අසිරිමත් දෙයක්. උන්වහන්සේ තපසට යද්දි රජකමේ ඉඳලා තපසට යනවා. ගියාට පස්සෙ සිරියහන් නෑ, මුතුකුඩ සේසත් ඇල්ලීමක් නෑ, සීතල ඉවසාගන්න වීර්යය තිබ්බා. මැසිමදුරු උවදුරු මැස්සන්ගේ දරුණු ප්‍රහාර ඉවසන්න වීර්යය තිබ්බා. ඊළඟට පළතුරක් කාලා ජීවත් වෙන්න වීර්යය තිබ්බා. උදේ ඉඳන් හවස් වෙනකල් සක්මන් කරන්න වීර්යය තිබ්බා. භාවනා කරන්න වීර්යය තිබ්බා. වනයේ ගිහිල්ලා තපස් රැක්කා කියලා මොනවාද මේ වැඩෙන්නේ, වීර්යයනේ වැඩෙන්නේ. පාරමිතාවක් විදියට වැඩෙනවානෙ පින්වතුනි ඔබ අහලා ඇති නන්දිවිසාල ජාතකය. නන්දිවිසාල ජාතකයේ අපිට මිහිරි වචන කියන එකට ප්‍රසිද්ධ වුනත් ඒ මිහිරි වචන කතා කිරීම කියන එකට තමයි නන්දිවිසාල ජාතකය ප්‍රසිද්ධ. නමුත් තමන් පෝෂණය කරන සිටුවරයාට ගැල් පන්සීයක් ඇදලා, ගැල් දාහක් ඇදලා, එක වෘෂභයා, එකම ගවයා ගැල් දාහක් ඇදලා, තමාව රකින හිමියාට වස්තුව ලබලා දුන්නා. එතකොට කොච්චර කායික ශක්තියක් තිබිලා තියෙනවාද තිරිසන් ලෝකෙ ඉදිද්දිත්. ඊළඟට ඒ වාගේ වීර්යයක් කොච්චර කලාද. එතකොට කායිකව කරන වීර්යයයි, මානසිකව කරන වීර්යයයි, ඒවා දියුණු වෙවී, ඒ වීර්යය කියන එක ගුණයක් පින්වතුනි. දරාගැනීම කියන එක ගුණයක්. ඒවා එකතු වෙනවා නිවනට. තිසරණයේ පිහිටලා නිවන් දකින්න බලවත් කැමැත්ත තියෙන කෙනාට ඔය ප්‍රශ්න දරාගන්න එක, ප්‍රශ්නෙකින් නැගී හිටින්න කරන වීර්යය, ඒ ඔක්කෝම නිවනට එකතු වෙනවා. ඒකෙ පිහිටක් තියෙනවාමයි. ගෙවල්වල ඇති කෝටියක් ප්‍රශ්න. සියදිවි, වෙලාවකට හිතෙනවා අපි මැරෙන්නැත්තෙ ඇයි මේ ප්‍රශ්න ගොඩේ අපේ මේ පපුව පුපුරන් නැත්තෙ ඇයි කියලා. පපුව පුපුරන්නැත්තේ දරා ගැනීමේ හැකියාව තියෙනවා. ඒ දරාගැනීමේ හැකියාව පුරුදු කරන්න ඕන. ඉවසන්න ඕන. ප්‍රශ්නයෙන් නැගී සිටින්න වීර්යය කරන්න ඕන. මානසිකව නොවැටී ඉන්න වීර්යය කරන්න ඕන. ඒ වීර්යය යම් දවසක කුසල් වඩන්න උපකාරී වෙනවා. ඉතින් ඒ නිසා ඒ නන්දිවිසාල ඒ වෘෂභයා ඒ කරත්ත දාහක් ඇද්දා නම් යම්කිසි ශරීර වීර්යයකින්, ශක්තියකින්, ඒ ශක්තිය පුරුදු කරපු ගතිය යම්කිසි දවසක

කුසල් වඩන්න, අකුසල් ප්‍රහාණය කරන්න උපකාරී වෙනවා. මොකද පින්වතුනි සිල් ගුණදම් රැකගෙන යන කෙනෙකුට යම්කිසි වීර්යයක්, ශක්තියක්, තේජසක් තියෙනවානෙ හොඳට මං සිල් රකිනවා, මම දැන් හොඳ කෙනෙක්, මම ගුණධර්ම තියෙන කෙනෙක් කියලා. ඊටපස්සෙ එයාගෙ අතින් සිල්පදයක් කැඩුනොත් එහෙම ඇඟපතත් පණ නැතිව යනවා. අර මූණෙ තියන ලස්සනත් නැතිව යනවා. ආයෙ මොකක්දෝ වෙලා මන්දගාමී වෙලා යනවා. අර කැඩුණෙ සීලය. වෙනස් වුනේ ශරීරය. ඇයි ඒ? ඒ ඇඟට ගත්තු වීර්යයත් නැතිවෙලා ගිහිල්ලා. ඉතින් ඒ නිසා මහා බෝධිසත්ත්වයෝ එහෙම නෙවෙයි, මහා බෝධි සත්ත්වයන්ගේ වීර්යය කියන්නෙ අර මහාකපි ජාතකයේ බලන්න ඒ සතුරු සේනාවට, රජතුමාගේ සේනාව අඹ ගහ වට කලා. අඹ ගහේ දාහක්, අසූදාහක් ද මන්දා, විශාල වඳුරු සේනාවක් ඉන්නවා. දැන් අනිවාර්යයෙන් රජ්ජුරුවන්ට අහුවෙනවා වඳුරෝ ටික. අඹ ගහ තනිවෙලා. ළඟපාත ගහකුත් නෑ, ආරක්ෂිත ස්ථානය ගඟෙන් එහාපැත්ත. යන්න විදියකුත් නෑ, බෝසත් වඳුරා වේගයෙන් පැන්නා. එතකොට මේ නුවණ වීර්යය එකතු වෙච්චි හැටි බලන්නකො. ඒ පනිනකොටම හිතෙන් හිතාගත්තා ගඟේ මෙගොඩ ඉඳලා එගොඩට දුර මෙච්චරයි කියලා. ඊටපස්සෙ ගිහිල්ලා ඒ දුරට වැලක් කඩාගත්තා, හොඳ හයිය. ඒ වැල හොඳට මේ පැත්තෙ අත්තක ගැටගහලා අනිත් කොන අල්ලගෙන මේ පැත්තෙ ඉඳලා එගොඩට පැන්නා, ඉණේ ගැටගහගෙන. ඒ පනිනකොට අර ඉණේ ගැටගහගන්න ගිය ටිකත් එක්ක පොඩි ඉඩක් මදිවුනා. ඊටපස්සෙ අත්තක් වේගයෙන් අල්ලාගත්තා. අල්ලගෙන කිව්වා, උඹලා දැන් මගේ පිට උඩින් ගිහිල්ලා මේ වැලෙන් ගඟෙන් එගොඩට පලයල්ලා. එතකොට පින්වත්නි අර දහස් ගණන් වඳුරෝ ටික ඇඟ උඩින් ගිහිල්ලා වැලේ යනකොට ඒ ඔක්කොම දරාගෙන හිටියානෙ. අනිත් එක හිතන්නකො මේ පැත්තෙන් ගහ අල්ලගෙන ඉඳලා අර වැල දිගේ වඳුරෝ යනකොට අර වැල දිගේ වඳුරෝ කොච්චර ගඟේ ඉඳලා එහා පැත්තට යනකොට අර වැලේ විතරක් කොච්චර වඳුරෝ ඇතිද. ඒ ඔක්කොම වඳුරන්ගේ බර අතින් අල්ලගත්තානෙ. ඔක්කෝම බර අල්ලගත්තානෙ. ඉතින් රජ්ජුරුවෝ මේක බලාගෙන. රජ්ජුරුවෝ නිහඬව හිටියා. අවසානෙට ගියෙ අසත්පුරුෂ වඳුරා. වඳුරා යනකොට බඩ අල්ලගෙනනෙ යන්නෙ ඇඟ උඩින් නැගලා. මෙහෙම නියපොතු දාලා එහෙම්මම නියපොතු වලින් හීරුවා, හූරලා මෙහෙම හම ගත්තා උඩට. මම දැකලා තියෙනවා ඔය, වඳුරන්ගේ නෙවෙයි, රිලවුන්ගේ කාකොටා ගැනිමේදී ඒ හමවල් ගලවගන්න අවස්ථා මං දැකලා තියෙනවා. අර මහා විශාල වඳුරෙක් නිසා, අර

අසත්පුරුෂ වඳුරා මෙහෙම දාලා හදවත මෙහෙම උදුරලා ගත්තා උඩපැත්තට. ඒත් අතඇරියෙ නෑ, ඒත් අතෑරියෙ නෑ, මේකට කියන්නෙ මොකක්ද වීර්යය හැර. සත්පුරුෂකම හැර. ඊටපස්සෙ වඳුරෝ එහෙම්මම එහා පැත්තට ගියා. එහාපැත්තට ගිහිල්ලා, අවසානෙ රජතුමා දැක්කා උදේ වෙනකොට ගහක අත්තක එල්ලිලා ඉන්නවා, ලේ පෙරේනවා, ලේ බිමට වැක්කෙරෙන වඳුරු රාජයෙක්. වැලක් එහා පැත්තට බැඳලා. රජතුමා ඉක්මණට කිව්වා අර වඳුරා ඉක්මණට ගන්න. අරන් බෙහෙත් කලා. කතා කලා. වෙච්චි සිද්ධිය ඔක්කොම කිව්වා. දහම් අවවාද දුන්නා. වඳුරා මැරුණා. ඒ රජතුමා එතනම වඳුරා ආදාහනය කරලා හිස්කබල තැන්පත් කරලා ස්තූපයක් හදලා වැඳලා තියෙනවා. ඒ බෝසත් වඳුරාගේ හිස් කබලට වැඳපු පින් බලයෙන් රජ්ජුරුවෝ දෙව්ලොව ඉපදිලා තියෙනවා. එහෙනම් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ සර්වඥ ධාතූන් වහන්සේලාට වදින, රහතන් වහන්සේලාගේ අර්හත් ධාතූන් වහන්සේලාට වදින අයගේ පුණ්‍ය සංස්කාර ගැන අපි කොහොම කියන්නද, මේවා නේද සාක්ෂි? මේ කියන්න උත්සාහ කලේ වීර්යය, එච්චර චිත්ත චෛතසික, මානසික, කායික මහා ශක්තියක් මහා බෝධිසත්ත්වයන් වහන්සේ පූරණය කලා. ශරීර ශක්තියත් ඒ වගේ. අවසාන ජීවිතේ ඇත්තු කෝටි ගාණක කායික ශක්තිය ලැබුනා. වීර්යය කියන්නෙ අකුසලයක් නතර කලොත් නතර කලාම තමයි. දැන් අපි ගත්තොත් එහෙම මහා සුදර්ශන රජ්ජුරුවො හිතට වීර්යය අරගෙන හිතට අණ කරලා තියෙනවා, එම්බා කාම විතර්කය නෝ හිටු. එම්බා ද්වේෂ විතර්කය නෝ හිටු. එම්බා මෝහ විතර්කය නෝ හිටු කියලා මේ කාම, ව්‍යාපාද, හිංසා සිතුවිලි නවත්තලා තියෙනවා අවුරුදු අසූහාරදාහක් කාම සිතිවිල්ලක් ඇවිල්ලා නෑ. එතකොට කොච්චර වීර්යයක්ද, කොච්චර අණ කිරීමක්ද. කොච්චර අධිෂ්ටානයක්ද, මහා බෝධිසත්ත්වයෝ. දැන් අද අපි හිතනවා, මං නම් අද දවසේ කාම සිතිවිල්ලක් හිතන්නෙවත් නෑ කියලා. මේ හැරෙනකොට කාම සිතිවිල්ලක් පහළ වෙනවා. මම නම් ආයෙ තරහ ගන්නෑ කියලා හිතනවා. මේ හැරෙනකොට ආයෙ තරහා එනවා. මං මැරෙනකල් සිල් කඩන්නෑ කියලා හිතනවා, මේ හැරෙනකොට සිල් පද කැඩෙනවා. එතකොට මිනිස්සුන්ගේ වීර්යයේ, සිහියේ, නුවණේ කොච්චර නම් දුර්වලතා තියෙනවාද. මහා බෝධිසත්ත්වයෝ සසරේ මේවා ටික ටික පුරුදු කලා. පුරුදු කරලා, පුරුදු කරලා ටික ටික නෙවෙයි උපරිම ආකාරයෙන් පුරුදු කරලා අවසානයේ මේ වීර්යය කියන එක පුරුදු කලා, තුන් ලෝකෙ කිසිම කෙනෙක් පුරුදු කරපු නැති විදියට. තවත් සම්මා සම්බුදු කෙනෙකුට මිසක්,

තවත් බෝධිසත්ත්වයන් වහන්සේ නමකට මිසක් ඒ වීර්යයට සමාන වෙන්න බැරි විදියට පුරුදු කලා. ඒ නිසා ඒකට කියනවා වීර්යය පාරමිතා කියලා. තමන්ගේ බාහිර වස්තු ඔක්කෝම නැති වුනත් වීර්යයම පුරුදු කරනවා. අතපය කැඩිලා ගියත් මං ඉවසනවා කියලා හිටියානම් ඉවසන එක එකක්, ඒ ඉවසන එක පවත්වන වීර්යය එකක්. අපි දැන් ක්ෂාන්තිවාදී ජාතකය කතා කරනකොට ක්ෂාන්ති පාරමිතාව, ඛන්ති පාරමිතාව අපි ඉවසපු හැටි කියනවා. එතකොට ඒ ඉවසීම පවත්වන්නෙ, දැන් ඇතිවෙච්චි ඉවසීම ඊළඟ මොහොතට පවත්වන්නේ මොකෙන්ද, වීර්යයෙන්. වීර්යයෙන් පවත්වන්නෙ. එතකොට මෛත්‍රියක් ඇතිවෙනවා. එතකොට ඒ මෛත්‍රිය ඊළඟ මොහොතට පවත්වන්නෙ කොහොමද, වීර්යයෙන්. දැන් සිල් සමාදන් වෙනවා, ඊළඟ මොහොතේ සීලය කොහොමද රකින්නෙ? වීර්යයයෙන්. එතකොට ඒ නිසා වීර්යය ඒ විදියට වැඩෙනවා. ඉතින් ඒ නිසා මහා බෝධිසත්ත්වයෝ ඒ විදියට වීර්යය වැඩුවා. මිනිස්සු වෙලා වීර්යය වඩන එක කවර කතා ද, මහා බෝධිසත්ත්වයෝ එදා ලේනෙක් වෙලා ඉද්දින් තමන්ගේ ලේන් කූඩුව ගඟට වැටිලා, ගංවතුර ගලලා මුහුදට ගහගෙන ගිහිල්ලා. ඉතින් ලේනා, එහෙ දුවනවා, මෙහෙ දුවනවා, ලේන් පැටව් එක්ක කූඩුව වැටිලා. ඊටපස්සෙ මේ ලේනා මොකද කලේ කල්පනා කලා, මම මුහුද හින්දන්න ඕන. දැන් මෙහෙම සිතිවිල්ලක් ඇතිවෙන එකනෙ පුදුමෙ පින්වත්නි. අපේ අයට කෙළින්ම එනවානෙ බෑ කියන පළවෙනි ඥාණයම එනවානෙ. අපේ අයට ඥාණය වැඩියි. මොනවාහරි කරන්න කලින්ම බෑ කියන තැනට වැටෙනවා. පොඩ්ඩක් කරලා බලන්නෑ. ඊටපස්සෙ දැන් කියනවා ගොවිතැන් කරපල්ලා, ඉදිරියට දුර්භික්ෂ එන්න ඉඩ තියෙනවා. මොන ඉඩම් ද, අපේ ගෙවල් වල ඉඩකඩම් නෑ කියනවා. එතකොට කියන්න කලින්ම හිතට එනවා, මොකක්හරි මල්පෝච්චියක හරි මොකක් හරි පැළයක් ඉන්දගන්න ඕන කියන සිතිවිල්ලක් එන් නෑ, පුදුම වැඩක්. එකපාරම බෑ කියන තැනට එනවානෙ. බණ, අනේ මතක හිටින්නෑ, අහලා බලන්නෑ. කෙළින්ම කියනවා මතක හිටින්නෑ කියලා. ඊටපස්සෙ බණපොත්, අනේ ඔය අකුරු අපිට ජේන්නෑ කියනවා. කියවලා බලන් නෑ, කලින්ම නිගමනයකට පැමිණෙනවා. අපේ මහාබෝධිසත්ත්වයෝ එහෙම නෑ. අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ වුනත් සම්බුද්ධත්වයට පත්වෙන්න කලින් මේ ලෝකෙ යම්තාක් දුෂ්කර ක්‍රියාවක් ඇත්ද, ඒ කියන්නෙ වීර්යයෙන් පුරුදු කළ යුතු මේ ලෝකෙ මිනිස්සු පුරුදු කරන සියලු ප්‍රතිපදාවල් පුරුදු කරලා අවසානෙ තමයි හිතුවෙ, දැන්නම් මේ ක්‍රමයෙන් අත්ථකිලමතානුයෝගයෙන් නිර්වාණය අවබෝධ කරන්න

විදියක් නෑ කියලා. ඉතින් ඊටපස්සේ ඒ කලන්දකයා ඒ බෝසත් ලේනා මුහුදට ගිහිල්ලා වළිගෙ ඔබලා ආයෙ ගොඩට ඇවිල්ලා වළිගෙ ගහනවා. ආයෙ මුහුදට යනවා, ආයෙ ගොඩට ඇවිල්ලා ගහනවා. මේක පුදුම සිද්ධියක්නෙ, මේක සිද්ධ වුනානෙ පින්වතුනි. ඊටපස්සෙ මේක කොයිතරම් ශ්‍රේෂ්ටද කියනවා නම් වීර්යය දැන් අපිට හිතෙන්නෙ කොහොමද මෝඩ වැඩක් කියලා. ඒ තමයි අපේ මොළය වැඩියි. අපි කලින්ම දෙනවා එයාට සහතිකයක් උඹ මෝඩයි කියලා. ඒ වුනාට මේ ලේනාගේ ක්‍රියාවට සක්දෙවිඳුගේ ආසනය උණුවුනානෙ. අපි මෝඩ වැඩ කියන ඒවට සක්දෙවිඳුගේ ආසනය උණුවුනානෙ. ඊටපස්සෙ අර ලේනා කරන වැඩේට ආසනය උණු වෙලා සක්දෙවිඳු බලනවා මෙහෙමත් වීර්යයක්. උතුම් අයගේ වීර්යය දැනෙනවා පින්වතුනි සත්පුරුෂයන්ට. සක්දෙවිඳු අහසේ පහළ වුනා. ලේනගෙන් අහනවා, එම්බා ලේනා උඹ කොහෙද යන්නෙ. මං මේ මුහුද හිස් කරනවා, මගේ පැටව් මුහුදේ ගියා. ඊටපස්සෙ කිව්වා, සක්දෙවිඳු අපේ කතාව කිව්වා. ඔය වළිගෙන් ගෙනල්ලා මේ පරක් තෙරක් නොපෙනෙන මේ සාගරයේ වතුර කොහාමද බං කිව්වා උඹ මේ වළිගෙන් ගෙනල්ලා ඉහින්නෙ. ඊටපස්සෙ ලේනා කිව්වා මං මේ තිරිසන් සතෙක් වෙලත් වීර්යය කරනවා. උඹ දෙවියෙක් වෙලත් ඇවිල්ලා මෙතන නිකං කච කච ගාලා කතා කරනවා. උඹ කතා කලේ නැත්නම් මං මේ වෙනකොටත් ගිහිල්ලා දෙතුන් පාරක් ඇවිල්ලා කිව්වා. ඒ නිසා මාගේ උත්සාහයට බාධා කරන්න එපා කිව්වා. ඊටපස්සෙ ලේනා ආයෙ කතාවක් නෑ, ලේනා ආයෙ ගිහිල්ලා ගේනවා. සක්දෙවිඳුට පුදුම හිතුනා. සක්දෙවිඳු එක මොහොතින් ලේන් කූඩුව ගෙනල්ලා ඔහු ඉස්සරහින් තිබ්බා. ඒ වීර්යයෙන් ප්‍රයෝජන ගත්තෙ නැද්ද. ඔහුට ඕනවුනේ දරු පැටවුනුයි, ලේන් කූඩුවයි නේද. මුහුද හින්දුවෙ නෑ, ප්‍රතිඵලය ගත්තනෙ. පුදුම සහගත නැද්ද. තමන් ඇත්තටම වළිගයෙන් පැන් ඉහළා තමන් වතුර ටික ගොඩ දාලා ලේනා තමාගේ වැඩේ කරගත්තාද නැද්ද? කරගත්තානෙ. මොන දෙවි කෙනෙක් හරි ඇවිල්ලා ගෙනත් දුන්නානෙ. පුදුම වීර්යයක්නෙ. පුදුම සහගතයි, මහා බෝධිසත්ත්වයෝ කියන්නෙ ලේසියෙන් අතාරින කෙනෙක් නෙවෙයි. එහෙව් එකේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ බෝධිසත්ත්ව කාලෙ, සිද්ධාර්ථ තාපස කාලෙ අර දුර්ගේෂ්වරී කන්ද, උරුවේලාවෙ, ඒ කන්ද උඩ ඉඳලා පෙරලිලා බිමට වැටෙද්දි ඇඟට පණ නැතිව, ආයෙත් නැගිටලා දූවිලි පිහදාගෙන ආයෙත් කන්ද නගිනවා. පුදුම සහගතයි. එක මොහොතක් ඉදිරියට තිබ්බ පය පිටිපස්සට ගත්තෙ නෑ. ඒ නිසා ඔහොම වීර්යයක් කරගෙන ආවෙ මහා බෝධිසත්ත්වයෝ. ඉතින් මාරයා ඇවිල්ලා

කිව්වනේ සිද්ධාර්ථ ඕක අතෑරපන්, උඹ මේ ඇටසැකිල්ලක් වගේ වෙලා. ඔය වාගේ වීර්යය කරන්න ගිහිල්ලා කීදෙනෙක් මැරිලා වැටුනද. උඹ පණ පිටින් ඉඳලා අඩුම තරමේ පිනක්වත් කරගනින් කිව්වා. කිව්වා මං වීර්යය කරන කෙනෙක්. අර බලාපන් කිව්වා නේරංජනා නදිය. උඹ ඔය කතාව වෙනකාටහරි ගිහිල්ලා කියාපං. අන්න නේරංජනා නදිය. මගේ හුළඟක් ඇවිල්ලා මගේ ඇඟ ස්පර්ශ කරගෙන ගියොත් මං ගන්න වීර්යයත් එක්ක ඒ හුළඟට පුළුවන් කිව්වා අර නේරංජනා නදිය වියළවලා දාන්න. ඒ නිසා ඉස්සරහට තිබ්බ අඩියෙන් ප්‍රතිඵලයක් නොලබා ජීවත් වෙනවාට වැඩිය මැරෙන එක යහපත් කිව්වා. එහෙමයි මහා බෝධිසත්ත්වයෝ කිව්වෙ. එක්තරා ජීවිතයකදී, මුහුදෙ වැටිලා පීනනවා. පීනා යනකොට දවස් හතක් පීනුවා තනියෙන්. මේ මුහුදට වැටිලා හරියට වීර්යය කරලා තියෙනවා. ඊටපස්සෙ මනිමේඛලාව හත්වෙනි දවසේ ඇවිල්ලා කියනවා එම්බා මනුෂ්‍යය උඹ කොහෙද පීනන්නෙ, තෙරක් හොයාගෙන. බලාපන්කො අහල පහළ තෙරක්වත් නෑනෙ. නිකන් බොරුවට වීර්යය කරන්න එපා කිව්වා, උඹට ආයෙ යන්න බෑ, නිකන් මැරෙන්නැතිව ඕකෙම මැරිලා පල කිව්වා. ඊටපස්සෙ මනිමේඛලා එහෙම කියනකොට කිව්වා එම්බා දේවතාවී ඔබ එහෙම කියන්න එපා කිව්වා. වීර්යයේ ප්‍රතිඵල නෑ කියලා. බලන්න කිව්වා මං දවස් හතක් පීනුවා. මං ජීවිතේට දෙවියෙක් දැකලා නෑ, මං දැන් උඹ දකිනවානෙ. මං මේ වීර්යය කරපු නිසානෙ. ඒ නිසා මං තව ඉදිරියට පීනනකොට මං තව ගොඩාක් දේවල් දකින්න ලැබෙයි. ඒ නිසා මං මේ වීර්යය අත්හරින්නෑ කිව්වා. මනිමේඛලා ඒ මහා බෝධිසත්ත්වයෝ උස්සලා ගිහිල්ලා තියනවා ගොඩබිම. වීර්යය, අත්හරින්නෑ, මොනවාහරි පුරුදු වුනොත් දිගටම පුරුදු කරගෙන යනවා. අසංඛෙය්‍ය හතරක්, ඔය විදියට වීර්යය කරපු ජීවිත අසංඛෙය්‍ය හතරක්. සංඛ්‍යා වශයෙන් ගත්තොත් අනන්තයි අප්‍රමාණයි. අසංඛෙය්‍ය ගණන් ජීවිතවල මගේ බුදුරජාණන් වහන්සේ වීර්යය පුරුදු කලා. තව ජීවිතයක තියෙනවා සංඛ කියලා බ්‍රාහ්මණයෙක්. ඒ සංඛ බ්‍රාහ්මණයා මහා බෝධිසත්ත්වයෝ. ඉතින් පසේ බුදුරජාණන් වහන්සේ නමකට පාවහන් සඟලක්, කුඩයක්, පූජා කරලා නැව් නගින්න යනවා, තමන්ගේ අතවැසියත් එක්ක. ඉතින් නැව් නගින්න ගියාට පස්සෙ මැදකට යනකොට නැව එහෙම්මම වතුර ඇතුලට ඇවිල්ලා ගිලෙන්න හදනවා. ඉක්මණට කලේ, මේ මහා බෝධිසත්ත්වයෝ ඉක්මණට කලේ, තමන්ගේ අතවැසියට කතා කරලා ගබඩාවට ගිහිල්ලා, හකුරු කුඩු කෑවා, ගිතෙල් එක්ක. අපි කියන්නෙ අද චතුමධුර වගේ. එහෙම කාලා කාලා බඩ ගොඩාක් පුරව ගත්තා. ඊටපස්සෙ

තල තෙල් ගෑවා. ගෝලයාටත් කිව්වා මේක කරපන් කියලා. මුලු ඇඟේම තලතෙල් ගාගත්තා. තලතෙල් ගාගෙන හොඳට හකුරුයි ගිතෙලුයි බීලා නැවේ කුඹ ගහට නැංගා. දැන් ඒ වෙනකොට මිනිස්සු මානසිකව වැටිලා මිනිස්සු, නැව ගිලෙන්න කලින් සමහර අය මුහුදට පනිනවා. ඊටපස්සෙ නැව ටික ටික ගිලෙනකොට ඔන්න මිනීමෝරු ඇවිල්ලා ටික ටික අර වැටෙන වැටෙන මනුස්සයා කනවා. ඊටපස්සෙ ඒ සංඛ බ්‍රාහ්මණයා තීරණය කලා නැවේ ඉඳලා අපි ආවෙ මේ පැත්තට, මොකද යන පැත්තක සීමාවක් අපිට තේරෙන්නෑ, නමුත් දවස් හතක් හරි ආවානේ මේ නැව. ඒ නිසා ආපු පැත්ත මේ පැත්ත කියලා අදහගත්තා. තීරණය කලා, තීරණය කරලා දැන් අර නැව එහේම්මම ගිලෙනකොට අවසානෙට කුඹ ගහනෙ පාත්වෙන්නෙ, කුඹ ගහ පාත්වෙනකොට අර නැව වටේට දැන් මෝරු මාළු එකතු වෙලානෙ, ඒ නැවේ කුඹ ගහේ ඉඳලා මාළුන් ඉන්න සීමාවට උඩින් පැන්නා. ඒ කාලෙ පින්වතුනි කරණම් ගහන එක, උඩින් පනින එක සාමාන්‍යයෙන් සමස්ථයක් මිනිස්සු පුහුණු වෙලා තියෙන එකක්. දැන් මිනිස්සු දුවන්න පුරුදු වෙන්නෙ. කරදරයක් ආපුවාම දුවන්නෙ. ඒ වගේ ඒ කාලෙ මිනිස්සු කරණම් ගහන එක, උඩින් පනින එක පුරුදු වෙලා තියෙනවා. ඉතින් අර මෝරුන්ට උඩින් පැන්නා. එතකොට දැන් මෙතන තියෙන ඊළඟ එක තමයි අර නුවණ. කල්පනා කරපු නුවණ. ඉතින් පීනනවා. පින්වතුනි තලතෙල් වගේ දේවල් ඇඟේ ගාගත්තට පස්සෙ ඔය ශරීර වර්ධනය කරන අය තලතෙල් නිතර පාවිච්චි කරනවානෙ. ඒ ඇඟේ ශක්තිය පවත්වනවා. ඊළඟට ගිතෙල් හකුරු වගේ දේවල් වගේ බිව්වට පස්සෙ, ඒක ඖෂධයක් වගේම ආහාරයක්. හිමීට දිරවන්නෙ. එතකොට හිමීට දිරවනවා. ඊටපස්සෙ දැන් ඔන්න පීනනවා. පීනලා පීනලා පීනලා, එතකොට මෙයා පිටිපස්සෙන්ම අතවැසියා පීන පීන එනවා. දවස් හතක්. දැන් මේ අතවැසියා අපේ ආනන්දයන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ පිටිපස්සේමයි ඉතින් ඒ කාලෙත්. ඊටපස්සෙ ඉතින් ඔහොම යනකොට මනිමේඛලාවට දවස් හතකින් තමයි මේක දැනෙන්නෙ. මනිමේඛලාව ආකාශයේ පෙනී ඉඳලා, දැන් උපෝසථය සමාදන් වෙලා ඉන්නෙ. නැවට වැටිච්ච ගමන් උපෝසථය සමාදන් වුනා. මං අද මේ ගමන යන්නෙ උපෝසථයෙන්. ඊටපස්සෙ හවස් කාලයේ තමයි මනිමේඛලා අහසෙ පහළ වෙන්නෙ. පහළ වෙලා කිව්වා, එම්බා ගෘහපතිය ගොඩාක් දැන් මානවකය දැන් බොහෝ කාලයක්, දවස් හතක් මුහුදෙ පීනනවා නේද. ඊටපස්සෙ ඒ නිසා ඔබට බඩගිනි ඇති, මං මේ දිව්‍ය ආහාරයක් දෙනවා. ඊටපස්සෙ කිව්වා දැන් වෙලාව කීයද, දැන් ඉර අවරට ගිහිල්ලා නේද, ඔව් කිව්වා.

ඊටපස්සෙ ඉර අවරට ගියාට පස්සෙ මං ආහාර ගන්නෑ කිව්වා. මේ බලන්න දවස් හතරක් ආහාර නැතිව පීනන මහා බෝධිසත්ත්වයෝ ඉර අවරට ගියාට පස්සෙ ආහාර ගන්නෑ, උපෝසථය අධිෂ්ටාන කරලා, මුහුදෙ පීනන්නෙ. මුහුදෙ පීනන්නෙ දැන් එහා පැත්තට කියලා තැනක් දැනගෙන නෙවෙයි. පරක් තෙරක් පේන්නෑ, මෙහෙම බලනකොටත් පේන්නෑ. ඊටපස්සෙ කිව්වා ඔය සීලය අත්හරින්න කිව්වා, දැන් මනුස්සයො ජීවත් වෙන්න, ඔහේ දැන් පීනලා යන්න හරි මොනවාහරි ඕන ශරීරයට. ඒයි එම්බා දේවතාවී, උඹ කුසලයට හානි කරන්න එපා කිව්වා. මනිමේඛලා ගැස්සිලා ගියා. උඹ මොකටද මෙතෙන්ට ආවෙ. කිව්වා ඔබව එතෙර කරවන්න. ඔබ මාව එතෙර කරවන්නේ මගේ පිනකින්ද, ඔබේ අමුතු කරුණාවක්ද කියලා ඇහුවා. නෑ, ඔබගේ පිනක් තියෙනවා. ඔබ පසේ බුදුරජාණන් වහන්සේ නමකට පාවහන් සඟලක් සහ කුඩයක් දීලා තියෙනවා. පාවහන් සඟලක් දුන්න කෙනාගෙ ගමන පහසු වෙනවා. කුඩයක් දුන්න කෙනාට රැකවරණය සැලසෙනවා. ඒ නිසා ඔබට අනිවාර්යය රැකවරණය සැලසිය යුතුයි කිව්වා. නැවක් මැව්වා එතන. ඊටපස්සෙ මහා බෝධිසත්ත්වයෝ සංඛ බ්‍රාහ්මණයා නැවට ගොඩවුනා. ඊටපස්සෙ දැන් අනිත් එක්කෙනාට නැවට ගොඩවෙන්න නැව පේන්නෑ. ඊටපස්සෙ කිව්වා මෙයාට නැව පේන්නෑනෙ. එයා කියනවා මට මොකුත් පේන්නැතිව ගියා කියලා. ඊටපස්සෙ කිව්වා එයා ඒ පින කරලා නෑ. ඒ නිසා ඒ ගමන්ම කිව්වා, සංඛ බ්‍රාහ්මණයා අතවැසිය, මා පාවහන් කුඩ පූජා කරපු පින උඹ අනුමෝදන් වෙනිං කියලා, සාදූ කියලා අනුමෝදන් වුනා. අනුමෝදන් වෙච්චි ගමන් එයාට නැව පෙනුනා. ඔන්න අනුමෝදන් වීමේ ආනිසංස කොහොමද. ඒ නැවෙන්, රන්රිදී පුරවපු නැව, ඔවුන් හිටපු රාජධානියටම සේන්දු වුනා. වීර්යය. දැන් තියෙනවානෙ කතංසු සරති යෝගං කතංසු සරති අන්නවා කතංසු සුඛං අච්ඡේති කතංසු පරිසුජ්ඣති සද්ධාය සරති යෝගං. මේ සසර සැඩපහර තරණය කරන්න තියෙන්නෙත් ශ්‍රද්ධාවෙන්. දැන් සංඛ බ්‍රාහ්මණයා අදහාගත්තෙ නැද්ද මං යන්න ඕන අර දිසාවට කියලා. ඒ දිසාව අදහගත්තේ නැත්නම් කොයි පැත්තටද යන්නෙ. ඒ දිසාවට කෙළවරක් ඉවරවෙනකල් මං යනවා කියන එක අදහගත්ත නිසා නේද ඒ පැත්ත තරණය කරගෙන යන්නෙ. ඒ නිසා තමයි බුදුරජාණන් වහන්සේ වදාළ බුද්ධ වචනය ගැන අමා මහ නිවන ගැන, සසර දුකින් නිදහස් වෙන්න පුලුවන් බව, සීලය රකින්න පුලුවන් බව, ඒ වචන අදහගන්න ඕන අපි. එතකොටයි මේ සසර සැඩපහර තරණය කරන්න පුලුවන් වෙන්නෙ. සද්ධාය සරති යෝගං අප්පමාදේන අන්නවා, මේක අප්‍රමාදීව

කරන්න ඕන. දැන් බලන්න ඒ සංඛ බ්‍රාහ්මණයා ඒ දිසාව අදහාගෙන මෙහෙම වීර්යය කරනකොට එක අතක් ගහලා ඊළඟ අත පීනන්න යොමු කලේ නැත්නම්, නැත්නම් දවසක් පීනලා ඊළඟ දවසේ අක්‍රිය වුනොත් එහෙම, කෙළවරක් දක්වා යන්න පුලුවන්ද? බෑ. ඒ නිසා මේ කරන කුසල් වැඩපිළිවෙල අප්‍රමාදී වෙන්න ඕන. ආ දැන් මං මේ අවුරුද්දෙ මාස එකොළහක් සිල් ගත්තා. දැන් ඇති. බණ සීයක් ඇහුවා. දැන් ඇති. ආ එහෙනම් දැන් අපිත් ධර්ම දේශනා අහන අය, මිලින්දප්‍රශ්නෙ දැන් ඇහුවා ඇති, ආ බියකරු සසර දහම් වැඩසටහන දැන් බැලුවා ඇති. එහෙම නෙවෙයි, අප්පමාදෙන අන්නවා, ධර්මය අහන එකත්, සිල් ගන්න එකත්, කුසල් වඩන එකත් ඒක නවත්වන්නෑ, එකදිගට නොකඩවා කරගෙන යන්න ඕන. විරියේන දුක්ඛං අච්චෙති. ඉතින් මේ පීනන එක මේ අප්‍රමාදීව කරන වැඩපිළිවෙළ, එක දිගට කරගෙන යන්න උපකාරී වෙන්නෙ වීර්යය, දැන් සංඛ බ්‍රාහ්මණයා සම්පූර්ණයෙන් මෙහෙයවන්නේ මේ වීර්යයෙන්නෙ. විරියේන දුක්ඛං අච්චේති, දුකෙන් එතෙර වෙන්න පුලුවන්නෙ වීර්යය තිබ්බොත්. දැන් සමහර අයගේ ජීවිත වලට ප්‍රශ්න ආවට පස්සෙ එයා සියදිවි හානිකර ගන්නෙ එයාට ජීවිතේ පවත්වගන්න, ප්‍රශ්නෙ දරාගන්න එයාට වීර්යයක් නෑ. දැන් මට මහත්තයෙක් කිව්වා එයත් එක්ක බිස්නස් කරපු ගොඩාක් අය එකපාරම එයාලගේ බිස්නස් වැටිලා. ඔක්කොම බිස්නස් වැටුනට පස්සෙ දරාගන්න බැරිව දෙන්නෙක් වෙඩි තියාගෙන මැරිලා. මීට අවුරුදු තිහ හතළිහකට කලින්. අනේ අර එක මහත්තයෙක් කොහෝමහරි ශෝකයෙන් දරාගෙන හිටියා. දැන් වෙනකොට එයාලා ණයතුරුස් ගෙවලා දැන් හොඳට ලස්සනට ජීවත් වෙනවා. අර වෙලාවෙ දරාගත්ත නිසානෙ. දැන් අර කොහෙදෝ රටක රටේ ආර්ථිකය ගොඩනගන්න බැරිවෙයි කියලා දැන්ම අර දූවන මුවන් දැකලා පලා අනෑරියා වගේ සියදිවි හානිකරගත්තානෙ. එතකොට ඒ රටට යම්කිසි ආර්ථික, ලෝකෙම ආර්ථිකය වැටිච්ච වෙලාවෙ එක රටක විතරක් නෙවේනෙ. එතකොට මේක ගොඩනැගෙන්න ක්‍රමයක් හැදෙයි. එතකොට ඔහුට ඒකට ඔරොත්තු දෙන්නෑ, දැක්කද හීන වීර්යය. ඕවා සසරටත් යනවා. සංසාරේ තිබුනොත් එහෙම වීර්යය වඩලා, නිවන් දකින්න ලේසියි. ඇයි ඒ, ඔබට මතකද වණ්ණුපථ ජාතකයේ අර ගල බිඳපං කියලා කිව්වනේ හැඩි දැඩි පුරුෂයෙකුට. මහා බෝධිසත්ත්වයන්ගේ වචනයෙන් ගල බින්දනේ. ආන්න ඔය තරුණයා අපේ බුද්ධ ශාසනයේ ඉපදුනා හාමුදුරු නමක්. මේ ටික කාලයක් යනකොට ඒ හාමුදුරුවන්ට මහණකම එපා වුනා. ගෙදර යන්න හිතුනා. බණ භාවනා තිත්ත වුනා. ගෙදර යන්න හිතුනා. බුදුරජාණන් වහන්සේ ළඟට

ගෙන්නගෙන ගියා. ස්වාමීනී, මේ භික්ෂුව සිවුරු හරින්න හදනවා. බුදුරජාණන් වහන්සේ වදාළා කාන්තාරයක අතරමං වෙලා ඉඳිද්දි මිනිස්සුන්ට වතුර ටිකක් දෙන්න මහා ගලක් බිඳලා වතුර ගත්තු මනුස්සයෝ, දැන් මොකද මේ වෙලා තියෙන්නෙ කිව්වා. ඇඟ කෙළින් කර ගත්තා. බුදුරජාණන් වහන්සේ ජීවිත කතාව කියලා දුන්නා ඒ අතීතයේ. ඒ ආසනයෙන් නැගිට්ටේ අර්හත්වයට පත්වෙලා. සංසාරයේ වීර්යය කරපු එක දැක්කද ආපු හැටි. එදා ගල බිඳපු වීර්යය ආපු හැටි දැක්කද. එක දවසක් හරි වීර්යය කරලා මැරෙන්න පින්වතුනි. මොකක් හරි ගුණ ධර්මයක්. මහා බෝධිසත්ත්වයෝ, දැන් අර බලන්න එක දවසක් අර සත්පුරුෂයෙක්ගේ වචනයට වීර්යය කරලා, ඒ වීර්යයේ ගුණධර්මය අර්හත්වයටම ආපු හැටි කොහොමද. ඔය එක සුලු අවස්ථාවක් නේද. මහා බෝධිසත්ත්වයෝ වීර්යය කරපු ඒවා තියෙනවා, අසංඛෙය්‍ය අප්‍රමාණ ගානක්. ඒ වීර්යය පරතෙරටම පත්වෙලා තමයි ලොව්තුරා සම්මා සම්බුදු බවට පත්වුනේ. වීර්යය අධික නිසාම, අනෙක් සම්මා සම්බුදුවරු අසංඛෙය්‍ය දාසය, අසංඛෙය්‍ය හත පෙරුම් පුරද්දි අපේ බුදුරජාණන් වහන්සේ අසංඛෙය්‍ය හතරකින්ම ලොව්තුරා සම්බුද්ධත්වයට පත්වුනා. ඒ නිසා වීර්යය බොහෝ සේ වර්ණනා කලා. ඉතින් ඒ නිසා පින්වතුනි, අතීතයේ පින්වතුනි අපේ මහා බෝධිසත්ත්වයෝ වීර්යය පුරුදු කරලා, සමහර වෙලාවට තියෙනවා බඹසර එපාවෙලා තාපස ජීවිතේට ගිහිල්ලා බඹසර එපාවෙලා, ඒ තාපසයින් වහන්සේ වාසය කරනවා අවුරුදු පනස්පහක් වාසය කරලා තියෙනවා බඹසර එපාවෙලා සිවුරු හරින්නැතිව, සිල් කඩාගන්නැතිව. කොහොමද ඉන්නෙ වීර්යය, හිත කැමති නෑ වීර්යය කරනවා සීලය රකින්න. එහෙම ඉඳලා තියෙනවා. ඒ කරපු වීර්යය පාරමිතාවක් වගේ එකතු වුනා. ඒ නිසා හොඳටම තේරෙනවා අද කාලෙ, අද සමාජෙ නැත්තේම වීර්යය. බණ පොතක් එකදිගට කියවගෙන යන්න වීර්යයක් නෑ, බණක් එකදිගට අහගෙන යන්න වීර්යයක් නෑ, සක්මනක් භාවනාවක් එකදිගට කරගෙන යන්න වීර්යයක් නෑ, වන්දනාවක් වුනත් එකතැනක ඉඳගෙන ඉන්න වීර්යයක් නෑ. බලන්න අපි ඉඳගෙන ඉන්නකොට අපි කීපාරක් එහෙට මෙහෙට ඇඹරෙනවද කියලා. මේ බණ ටික අහනකොට කීගමනක් එහෙම මෙහෙට ඇඹරෙනවාද කියලා බලන්න. කයක් ඍජු කරගෙන අහන්න අපිට වීර්යයක් නෑ, පින්වතුනි මේ කෙලෙස් නසන වීර්යය උපද්දවගන්න නම්, සරණ යන්න ඕනම වීර්යයෙන් ඉහළටම ගිය කෙනා. ඒ තමයි ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. වීර්යයෙන් සරණ යන්න, වීර්යය උපදවා ගැනීම පිණිස. බලන්න ලෝකයේ මිනිස්සු තරහා ගිය ගමන්

අතපයේ කඩු කිණිසි අතේ තියාගෙන දිව එළියට දාගෙන ඉන්න යකුන් යක්ෂණියන් ළඟට ගිහිල්ලා අරකාගේ බෙල්ල මිරිකපන් කියනවා. උනුත් අතපයේ අවිආයුධ තියාගෙන බයෙන් ක්‍රෝධයෙන් දිව එළියට දාගෙන ලේ පෙරාගෙන ඉන්නෙ තරහෙන්. තරහ යන මනුස්සයා, තරහා යන අය ළඟටම යනවා. ඊටපස්සෙ හදි හූනියම් කරන කෙනා, හදි හූනියම් කරන අය ළඟටම යනවා. එහෙම ගිහිල්ලා මිනිස්සු පිහිට ඉල්ලන්නෙ ඒ වගේ අයට. ලැබෙන්නෙම සංසාරේ තරහ, ලැබෙන්නෙම සංසාරේ එකට එක කිරීම. ලැබෙන්නෙම සංසාරේ දුක, පීඩාව, රෝග. දුගතිය ලැබෙන්නෙ. අපිට වීර්යය අඩුයි තමයි. නමුත් වීර්යය ඉහළටම පුරුදු කරපු මගේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඉන්නවා, සිරිපා ළඟ වැඳවැටෙන්න. ඒ ලොව්තුරා බුදුරජාණන් වහන්සේ සරණ යන්න මුළු හදවතින්ම. ශ්‍රී සද්ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. එදාට තමයි ඔබගේ වීර්යය උපදින දවස. එදාට තමයි ඔබගේ කඳුල වියළෙන දවස. එදාට තමයි ඔබගේ නිවන උපදින දවස. එදාට තමයි ඔබගේ සසර දුක් කෙළවර වෙන්න පටන් ගන්න දවස. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ යන්න. මොකාක්වත් පණක් නැතිව, වීර්යයක් නැතිව ඉන්න අයට වීර්යය උපදිනවා. සක්මන් මළුවේ සක්මන් කරලා නිදි කිරාගෙන සක්මන් මළුවේ වැටිච්ච අය රහත් වෙලා නැගිටලා තියෙනවා පින්වත්නි. බණ අහනකොට නිදි කිර කිරා වැටි වැටි හිටපු හාමුදුරුවරු බණ ඉවරවෙනකොට - දවසක් නිදි කිර කිරා වැටි වැටි ඉන්නවා හාමුදුරු නමක්. බුදුරජාණන් වහන්සේ ඒ බණ නැවැත්තුවා. භික්ෂුව, නැගිට්ටා, මගේ අවවාද නැමැති අත නුඹගේ කණේ නොවැදේවා. ධර්මය මනාව ශ්‍රවණය කරන්න කිව්වා. ඒ භික්ෂුව මනාව ශ්‍රවණය කරලා නැගිට්ටෙ අර්හත්වයට පත්වෙලා. බණ පටන්ගන්නකොට හිටියේ නිදි කිර කිරා. කොහාමද ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ ගිය නිසා. ඒ ශාසනේ පිහිට ගත්තු නිසා. ඒ නිසා ඔය කුසීත වෙලා මොකවත් බෑ වගේ ඉන්න අය, පටාචාරා හිතුවද අච්චර පිස්සියක් වෙලා විනයධර භික්ෂුණීන් අතර අග්‍ර වෙයි කියලා. අංගුලිමාල හිතුවද කල්පයක් පවතින තේජසක් පැතිරෙයි කියලා. කුමක් නිසාද වුනේ. බුදුරජාණන් වහන්සේ සරණ ගිය නිසා. මහා වීර්යවතාණන් වහන්සේ සරණ යන්න. වීර්යය පාරමිතාව පරතෙරට පත්කරපු අපේ බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ඒ නිසා අපිට වීර්යයෙන් පාරමී පිරූ, වීර්යය පාරමිතාවක් කරගෙන ලොව්තුරා සම්බුදු බවට පත්වූ ඒ තථාගත බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණ අපේ ජීවිතේට ලැබේවා. නිවන් දකිනා මොහොත දක්වා බුදුරජාණන්

වහන්සේ සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. ඔබ කාටත් අසිරිමත් සම්බුදු සරණ සැලසේවා. තෙරුවන් සරණයි.

ඉතින් පින්වත්නි අද පින් අනුමෝදන් කරමු අපි. අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඇඹිලිපිටිය, කොළොන්න පදිංචි පින්වත් ප්‍රියංකා විජේසිංහ මහත්මිය විසින්, මීට මාස තුනකට පෙර මියපරලොව ගිය සහෝදරයාටත්, උපන්දිනය සමරන චින්තක සමීර ස්වාමියාට සෙත් ප්‍රාර්ථනා කිරීමත් මුල් කරගෙන. ඉතින් පින්වතුනි අපි අද දවසේ රැස් කරගත්තු සියලූම පින් අනුමෝදන් කරමු, සෙත් ප්‍රාර්ථනා කරමු රටට ලෝකයට. බුදුරජාණන් වහන්සේගේ අනන්ත වීර්යය පාරමිතාවේ ආනුභාව බලයෙන්, අපි රැස් කරගත්ත ධර්ම දානයේ පින්වල ආනුභාව බලයෙන්, ඒ වගේම රුවන්වැලි සෑයේ, ජයශ්‍රී මහා බෝධීන් වහන්සේගේ ආනුභාව බලයෙන්, අපගේ ලක්දෙරණට, ලෝකයට ව්‍යසනයක් වුනු මේ කොරෝනා වසංගතය දුරින්ම දුරු වේවා. මානව වර්ගයාට නිදුක් නිරෝගී සුවපත් යහපත සැනසිල්ල උදාවේවා, අපේ මව්දෙරණ සුරැකේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු මේ පින් බලයෙන්. ඒ වගේම සියලූම දෙවිවරු මේ පින් අනුමෝදන් වෙලා මේ පින්වතුනුත්, අපේ ලක්දෙරණත් ආරක්ෂා කරත්වා, මානව වර්ගයාට ආරක්ෂාව සලසත්වා කියලා දෙවිවරුන්ට සතුටින් පින් අනුමෝදන් කරමු. ඒ වගේම ධර්ම දානය දීම පිණිස ඉතාමත් කැමැත්තෙන් හිටපු ඒ සමන් මංගල සෙනෙවිරත්න පුතාට, ඉතින් ඒ දරුවා නැතිවෙලාත් මාස තුනක් ගියාට පස්සෙ ඒ අරමුණ මේ විදියට ඉෂ්ට වෙනවා. ඉතින් කොහොමහරි මේ ධර්ම දානයේ පින එතුමාගේ මාස තුනේ ධර්මදානයක් විදියටම අනුමෝදන් වෙලා ඒ දරුවාට සත්පුරුෂ ඇසුරම සැලසේවා, සත්පුරුෂයන් ළඟ වාසයම වේවා, ගෞතම බුද්ධ ශාසනයේ ඒකාන්තයෙන් සසර දුකින් නිදහස් වෙන්න මියපරලොව ගිය සමන් සෙනෙවිරත්න සහෝදරයාට වාසනාව ලැබේවා කියලා පින් පමුණුවමු. ඒ වගේම මැයි මස පළවෙනි දිනට උපන්දිනය යෙදෙන චින්තක සමීර, ඒ ප්‍රියංකා විජේසිංහ මහත්මියගේ ස්වාමිපුරුෂයාට මේ පින් අනුමෝදන් වී උපන්දිනය වෙනුවෙන් මේ ධර්ම දානයේ පින අනුමෝදන් කරලා සෙත් ප්‍රාර්ථනා කරනවා නිදුක් නිරෝගී සුවපත් භාවය, සත්පුරුෂ ඇසුර සැලසේවා, අකුසල් දුරු කරලා කුසල් උපදවන වීර්යයම ඇතිවේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම, කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා අපි මේ විදියට ධර්මය ඉගෙන ගන්නෙ. ඉතින් බුදුරජාණන්

වහන්සේගේ අසිරිමත් සම්බුදු ගුණකඳ ඔබට කියලා දෙන්න අපිව මෙහෙයවන්නේ, අපිට අවවාද අනුශාසනා උපදෙස් දෙන්නේ අපේ ගුරු ස්වාමීන් වහන්සේ. පරම පූජනීය ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සකල සඟරුවනට, ඒ වාගේම අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන් සියලු දෙනාට මේ පින් අනුමෝදන් වෙලා ගෞතම බුද්ධ ශාසනයේ ධර්මාවබෝධයම සැලසේවා. ඒවාගේම අද දවසේ ධර්ම දානය සලසන පින්වත් ඇඹිලිපිටිය, කොළොන්න පදිංචි ප්‍රියංකා විජේසිංහ මහත්මියට මේ පින් ඒකාන්තයෙන් අනුමෝදන් වෙත්වා, ඒ වගේම මේ පින්කම සඳහා උදව් උපකාර කල සුමනාවතී අම්මාටත්, චින්තක මහත්මාටත්, ඉනෝෂා මහත්මියටත්, නිරෝෂනී මහත්මියටත්, කසුන්, ධනුෂ්ක, චමත්, චමිලා, නිශාන්ති, නිරෝධා, ශ්‍යාමා යන කලණ මිතුරු මිතුරියන්ට මේ පින් අනුමෝදන් වේවා. මේ පින් අනුමෝදන් වෙලා මේ පින්වතුන් සියලු දෙනා නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා. ගෞතම බුද්ධ ශාසනයේ අකුසල් දුරු කරලා, කුසල් උපදවාගැනීම පිණිස වීර්යයම ඇතිවේවා. ගෞතම සසුනේ අසිරිමත් සම්බුදු සරණ ලැබේවා. ගෞතම ශාසනයේ පිහිට පිළිසරණ තුළින් සසර දුකින් නිදහස් වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වාගේම සියලුම අපි කාගේත් දෙමව්පියන්ට, ගුරුවරුන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ ධර්මදාන පවත්වන සියලු දෙනාට මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වාගේම කාර්ය මණ්ඩලයේ දරුවන් සියුල දෙනාට පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම අපි කාටත්, ඔබ සියලු දෙනාටත් මේ පින් බලයෙන් වීර්යයම ඇතිවේවා. බුදුරජාණන් වහන්සේගේ වීර්යය පාරමිතාවේ අනුහසින් අපේ ජීවිත තුළද වීර්යයම ඇතිවේවා අකුසල් දුරු කරගන්න, කුසල් උපදවගන්න. අසිරිමත් සම්බුදු සරණ ඔබ සියලු දෙනාට සැලසේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=JWazG_jAxbc&list=PLalyA_suCnHx15brN1U__CvrdlW8GMhnA&index=11

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ උතුම් අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සමඟ අපි මේ එකතුවෙලා ධර්මය ඉගෙන ගන්නෙ. මේ උතුම් දහම් වැඩසටහන මුල් කරගෙන බුදුරජාණන් වහන්සේගේ ජීවිතය ගැන අපි මෙතෙක් නොඇසූ කරුණු කාරණා මේ දහම් වැඩසටහනින් අපිට ඉගෙන ගන්න ලැබෙනවා. ඒ වාගේම බුදුරජාණන් වහන්සේගේ සසරේ පුරුදු කරන ලද අපරිමිත ගුණ සමුදාය ගැන අහන්න ලැබෙනවා. එතකොට ඒ විස්තර අහනකොට තමයි අපිට හිතෙන්නෙ මේ වාගේ උතුම් ශාස්තෘන් වහන්සේ නමක් සරණ යන්න ලැබෙනවා නම් කොයිතරම් වාසනාවක්ද කියලා. ඉතින් ඒ නිසා අදත් අපූරු විස්තරයක් ඉගෙන ගන්න ඔබට භාග්‍යය ලැබෙනවා. අද මේ උතුම් දහම් වැඩසටහන, අසිරිමත් සම්බුදු සරණ දායකත්වය දරන්නේ ගම්පහ නෙළුම්ගමුව මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ පින්වත් සම්පත් සමරකෝන් මහත්මයා, එම මැතිණිය සහ වික්ටෝරියා ප්‍රාන්තයේ මෙල්බර්න් නගරයේ මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ පින්වත් සුරේන් සමරකෝන් මහත්මයා, එම මහත්මිය ඇතුළු දූදරු පිරිස විසින්. ඉතින් මේ පින්වතුන් ධර්ම දානය සිද්ධ කරගෙන අද දවසේ බොහෝ පිනක් රැස් කරගන්නවා. අද දවසේ අපිට තියෙන්නෙ ක්ෂාන්ති පාරමිතාව. ඒ මේ ධර්මය අහලා කවුරුහරි තුළ ඉවසීම දරාගැනීම ආදී ගුණධර්ම පුරුදු කරගත්තොත් තෙරුවන් සරණ යෑම සිත තුළ රඳවාගත්තොත් මේ ධර්ම දේශනාව අහල, එතකොට අද ධර්ම දානය පවත්වන, ධර්ම දායකත්වය සළසන මේ පින්වතුන්ට එය බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. ඉතින් පින්වතුනි අපි එහෙනම් අද ධර්මය ඉගෙන ගනිමු. අපි මේ මෙතුවක් කාලයක් බුදුරජාණන් වහන්සේ සසරේ පිරූ පාරමී ධර්මයන්, දාන පාරමිතා, සීල පාරමිතා, ඊළඟට නෙක්ඛම්ම පාරමිතාව, ප්‍රඥා පාරමිතාව, ඊළඟට වීර්යය පාරමිතාව ගැන අපි ඉගෙන ගත්තා. ඒවා

ඉගෙනගන්නකොට පින්වතුනි, මම මට ශක්ති පමණින් මං ඔය විස්තර කිව්වාට ඒ මුලු ජීවිතේ පුරාම මහා බෝධි සත්ත්වයෝ සසරේ ගමන් කරද්දි ඔය පාරමිතා දහයට තමයි මුළු ජීවිතේම හැඩගැහෙන්නෙ. ඒ වගේම දාන පාරමිතා, අපි ගත්තොත් වෙස්සන්තර ජාතකය ගත්තොත් එතන දාන පාරමිතාව කියලා අපි විස්තර කරනවා, නමුත් ඒ තුල පාරමිතා දහයම වැඩෙනවා. සමහර වෙලාවට අද අපි ඉගෙනගන්න දේශනාව අවසානයට ඔබට ඒ කාරණාව තේරෙයි. ඉතින් ඒ නිසා ඒ මහා බෝධිසත්ත්වයන් වහන්සේ නමක් පින්වතුනි ඒ දීපංකර පාද මූලයේ විවරණ ගත්තට පස්සෙ අපේ මහා බෝධිසත්ත්වයෝ ඒ මහා බෝධිසත්ත්වයන්ට පිහිටන විශේෂ හැකියාවන් තියෙනවා සහ විශේෂ ගුණ තියෙනවා. මං කිව්වෙ, ඒ අසංඛෙයය හතරකුත් කල්ප ලක්ෂයක්, සම්බුදු වෙන මොහොත දක්වා පිරිමියෙක් විදියට තමයි ජීවිතේ ගත කරන්නෙ, ස්ත්‍රියක් විදියට මාරුවෙන්නෑ. අනෙක් මහා ශ්‍රාවකයො පවා, ආනන්දයන් වහන්සේ පවා ස්ත්‍රියක් වෙලා ඉපදුනා. එතකොට මහා ශ්‍රාවකයන්ටත් එහෙම වෙනවා නම් අද කාලෙ මිනිස්සුන්ට ස්ත්‍රී පුරුෂ බව මාරු වෙවී මාරු වෙවී තමයි මේ සංසාරේ යන්නෙ. පිරිමියෙකුට ස්ත්‍රියක් වෙන්න ගොඩාක් ලේසියි. නමුත් ස්ත්‍රියාවකට පිරිමියෙක් වෙන එක ඉතාම අමාරුයි. ඒ කියන්නේ ස්ත්‍රියකට ලොකු ඉවසීමක් ඕන. ලොකු පුණ්‍ය ශක්තියක් ඕන. ලොකු දරාගැනීමක් ඕන. හොඳට නුවණින් කල්පනා කිරීමක් ඕන. ඒ ගුණ සමුදායට පුරුෂ චිත්තයක් හැදෙනවා. ඒ හේතුඵල දහම අනුවම පිරිමියෙක් වෙලා උපදිනවා. හොඳ බඹසරක්, හොඳ පතිවෘතාවක් ඕන. ඒ වගේම තමයි පිරිමියෙකුට බඹසරක් නැත්නම්, ඒ වගේම හිත ලාමකයි නම්, ඊළඟට හිත පහත් හැඟීම් වල නම් තියෙන්නෙ, විශේෂයෙන් වැරදි කාම සේවනය ආදී කර්ම මුල් කරගෙන උපදිනවා ස්ත්‍රියක් වෙලා. ඉතින් මේ සසර ගමන එහෙම එකක්. නමුත් මහා බෝධිසත්ත්වයන්ට එහෙම වෙන්නෑ. ඊළඟට ප්‍රේත ලෝක වල වැටෙන්නෑ. කාලකන්ජික අසුර නිකායන් ආදී දුක්ඛිත අසුර නිකායන් වල උපදින්නෑ. ඒ වගේ විශේෂ ගුණ පිහිටනවා. ඒ වගේම පිහිටන ගුණ හතරක් තියෙනවා. ඒ තමයි මහා බෝධිසත්ත්වයන්ට දීපංකර බුදුරජාණන් වහන්සේගේ පාමුල විවරණ ගත්දා පටන් නිවන් දකින මොහොත දක්වාම වජ්‍රාසනයේ බුදුරජාණන් වහන්සේ සම්බුදු වන, ඒ වජ්‍රාසනයට වඩින තාක් කල්, ඒ අතරතුර මේ පාරමී ධර්මයන්, මේ ගුණධර්ම පුරුදු කරන්න පුදුම උත්සාහයක් හිතේ පිහිටනවා. ආයෙ පසුබාන්නෑ, ඊළඟට තමයි උම්මග්ග කියලා එකක් තියෙනවා. උත්සාහය උම්මග්ග. උම්මග්ග කියලා කියන්නෙ

උපාය මාර්ග. ඒ ඉවසන එක හෝ දන්දෙන එක, සිල් රකින හැටි, නෛෂ්කර්මය, ඊළඟට වීර්යයට, ප්‍රඥාවට මේ හැම එකකටම කරන්න ඕන විදිය හිතට එනවා. බලන්න විවරණ ගත්තට පස්සෙ ඒ ගුණධර්ම වඩන්න ඕන ක්‍රමය හිතට එනවා. ඊටපස්සෙ තියෙනවා අවත්ථාන කියලා, ඒ කියන්නෙ කරදර දුක් කම්කටොළු කොයිතරම් ආවත් ඒ තමන්ගේ අරමුණ කරාම යනවා. ඒ පාරමිතාව කොහොමහරි පුරනවා අතරමග නතර කිරිල්ලක් නෑ, ඒ ගුණධර්මය අතහැරීමක් නෑ, පුරනවා. ඊටපස්සෙ හිතචර්යා. හිතචර්යා කියන්නෙ ලොකු මෛත්‍රියක්. ඒ කියන්නෙ ගුණධර්ම පුරුදු කරන්න බාධා පිණිස පවතින අරමුණු එක්ක ගැටෙන්නෑ. මෛත්‍රියෙන්ම තමයි ඉන්නෙ. ඒ වාගේ ලොකු යහපතක් ඒ බෝධිසත්ත්වයන් තුළ පිහිටනවා. ඉතින් මං ඒ කරුණු කාරණා මූලික වශයෙන් මතක් කළේ. අද අපි ඉගෙන ගන්නේ ක්ෂාන්ති පාරමිතාව. ක්ෂාන්ති පාරමිතාව කියන්නෙ ඉවසීම. පින්වතුනි මේ ලෝකයේ ඉවසීම කියන එකට කරුණු කාරණා ගොඩාක් තියෙනවා. දැන් අපි ගත්තොත් බුදුරජාණන් වහන්සේ වදාළා ඉවසීම කියන එක, ඉවසීම ප්‍රහාණය කළයුතු ආශ්‍රව තියෙනවා. එතකොට ඒ කෙලෙස් ඒ ඉවසීමෙන්ම ප්‍රහාණය කරන්න ඕන. කමොහෝදී, බුදුරජාණන් වහන්සේ වදාළා භික්ඛවේ භික්ඛු කමෝහෝදී, මෙහිලා භික්ෂු ඉවසනවා. සීතං, සීතල ඉවසන එක ඉවසීමට අයිති, ක්ෂාන්තියට. ඊළඟට උණ්ණං, ඒ උණුසුම ඉවසනවා. ඊළඟට ජිගච්ඡා පිපාසා, බඩගින්න ඉවසනවා. පිපාසය ඉවසනවා. දංසමකස වාතා සිනෙසපසම්පාසානං අධිවාසකොහෝතී, මැසි මදුරුවන්ගේ එන උවදුරු ඒ නපුරු පහස, සර්පයන්ගෙන් එන පහස ඒවා ඉවසනවා. ඊළඟට දුරුත්තානං දුරාගතානං වචනපතානං, නපුරු කර්කශ ඉවසන්න අමාරු වචන ඉවසනවා. එතකොට ඉවසන්න අමාරු කර්කශ වචන කවුරුහරි කියද්දි එක්කෙනෙක් නිහඬව ඉන්නවා නම් එයා තුළ පවතින ගුණය තමයි ඉවසගෙන ඉන්න කෙනාගෙ, ඒ අහගෙන ඉන්න කෙනාගේ ඉවසීම. ඊටපස්සෙ තියෙනවා උප්පන්නානං දුක්ඛානං වේදනානං, උපන්නාවූ දුක්වූ වේදනා ඉවසනවා, තිබ්බ කටුක කර්කශ පන්නාහරණානං, පණ නැතිවෙන වේදනාව පවා ඉවසනවා. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා මේ විදියට තමයි කිව්වා ඉවසන එක පුරුදු වෙන්නෙ. ඉතින් මහා බෝධිසත්ත්වයො සසර පුරාවටම ඔය මෙන්න මේ කියපු දේවල් ඉවසුවා. ඇයි සසරේ තපස් රකින්න යනවා රජසැප අත්හැරලා. එතකොට මැසිමදුරු උවදුරු, සීතල, රස්නෙ කොච්චර ඉවසනවද. ඉවසන්න බැරි මහා නොදොල් චරිතයක් වුනොත් එහෙම එයාට කවදාවත් මේ ගුණධර්ම දියුණු කරගන්න බෑ. මේ කියන්නෙ ඉවසනවා කියන එක කෙටියෙන් ගත්තොත්

අපිට ධර්මයේ හැසිරෙන්න තියෙන එකට බාහිර සාධක බාධාවක් කරගන්නෑ, අපිට සීතල රස්නෙ, බණ අහනකොට රස්නෙයි මේක, අපිට රස්නෙ වැඩියි අප්පා එහෙ. අන්න ඉවසන්න බෑ, එතකොට ඉවසනවා කියන ගුණය එන්නෑ එයාට. ඒකයි මං කියන්නෙ නිතර පැමිණ ධර්මය අහන එකෙන් ඉවසන්න වෙනවා. ඊළඟට අනේ සීතල වැඩියි අප්පා එහේ. සිල් ගන්න ගිහිල්ලා හරි රස්නෙයි, අමාරුයි. ඒ ඔක්කොම ඉවසන්න බැරිකම තමයි එයාගෙ වචනෙන් ඒ කියන්නෙ. එතකොට ඒ ඔක්කෝම ඉවසාගෙන ඉන්නවා. ඊළඟට අප්පෝ එහෙ හරියට මදුරුවො. එතකොට ඒ ගුණධර්මයක් වඩන්න තැනකට එළඹෙන්නෑ මදුරුවෝ කියන කරදරය මුල් කරගෙන. එතකොට බාහිර සාධක ගැටලුවක් කරගන්නෙ නැතිව ගුණධර්මය පුරුදු කරන එක ඉවසීම. එතකොට සංසාරේ මහා බෝධිසත්ත්වයෝ කොයිතරම් නම් රජ සැප අත්හැරලා තපසට ගිහිල්ලා කොච්චර නම් දේවල් ඉවසන්න ඇතිද. ඇයි රාජ මාළිගාවෙ ඉද්දින් අතට පයට සේවකයො ඉන්නවා. තපස් රකින්න ගියාට පස්සෙ තනියෙන්. වතුර ටික තමන් ගේන්න ඕන. අලයක්, කොළයක්, පළතුරක් තමන් හොයාගන්න ඕන. ඊළඟට හතර වටේට ආරක්ෂාව ඉන්නවා. සත්ත්වයෙක් සීපාවෙක් එනකොට තමන් එළවගන්න ඕන. තමන්ගේ වස්ත්‍ර තමන් සෝදගන්න ඕන. එතකොට කොච්චර ඉවසන්න ඇතිද. රජමාළිගාවෙ වෙනම සීතල කාලෙට වෙනම මාළිගා, උණුසුම කාලෙට වෙනම මාළිගා ඒවා තියෙනවා. තපස් රකින්න ගියාට පස්සෙ සීතල කොච්චර ඉවසන්න ඕනද. තියෙන්නෙ පොඩි සළුවක් විතරයිනෙ තාපසයින් වහන්සේලාට. ඊටපස්සෙ උණුවතුර වෙනම ගේන්න ඕන, ඊළඟට වතුර පෙරලා වෙනම ගේන්න ඕන, මේ මොනවත් නැනෙ, පොකුණෙන් ගිහිල්ලා වතුර ටික අරන් එනවානෙ. කොච්චර නම් ඉවසීමක් කරනවා ඇතිද. රාජභෝජන වළඳපු කෙනෙක් කැළේ ගිහිල්ලා වනමුල් පලාඵල කනකොට කොහොම ඇතිද. දැන් හිතන්නකො ලංකාවෙ කෑම කාලා කෙනෙක් පිටරටකට ගිහිල්ලා පිටරට කෑමක් කනකොට දවස දෙකතුනක් කනකොට එහෙම්මම අප්පිරියා වෙනවානෙ. කෑමක්වත් හරියට නෑ කියලා. එතකොට මහා බෝධිසත්ත්වයෝ කොච්චර ඉවසන්න ඇතිද. එක ජීවිතයක්ද, දෙකක්ද, තුනක්ද, අප්‍රමාණ ජීවිත. සතුරන්ගෙන් කරදර එද්දි කොච්චර ඉවසන්න ඇතිද. ඊටපස්සෙ තියෙනවා පින්වතුනි මේ ඉවසීමත් සමහර අය අනුවණ කම නිසා ඉවසනවා, ඒවා ගුණධර්ම බවට පත්වෙන්නෑ. ඒ කියන්නෙ මෝඩ නිසා ඕන කියන දෙයක් අහගෙන ඉන්නවා. ඊටපස්සෙ සමහර අය දුබලකම නිසා, කියාගන්න හයියක් නෑ, ඒ නිසා කරබාගෙන ඉන්නවා. ඊටපස්සෙ සමහර අය රාගය නිසා

ඉවසනවා. දැන් සාමාන්‍යයෙන් ගෙදර ස්ත්‍රියාව ගොඩාක් නපුරු කර්කශ වචන කියද්දි පිරිමි අය හැම එකක්ම ඉවසගෙන ඉන්න එක පිරිමියාට දුක් ගෙවාදමන ඉවසීමක් නෙවෙයි ඒක. එයා ඒ ඔක්කෝම ඉවසාගෙන ඉන්නෙ තමන්ට බිරිඳක් විදියට ඉන්න ඕන කෙනෙක් නිසා. රාගය මුල් කරගෙන කොච්චර ඉවසනවාද මිනිස්සු. මුලු දවසෙම බැනුම් අහලා ඒ ඔක්කොම ඉවසාගෙන කොහොමහරි ගෑණු කෙනෙක් ළඟට යනවානෙ. එතකොට ඒ ඉවසීම සම්පූර්ණයෙන්ම තියෙන්නෙ රාගය මුල් කරගෙන. ඒ ඉවසීමෙන් දුක් කෙළවර කරන්නෑ. ඊටපස්සෙ මහා බෝධිසත්ත්වයෝ කවදාවත් රාගය මුල්කරගෙන ඉවසලා නෑ. ඊටපස්සෙ අනුවණ කම නිසා ඉවසලත් නෑ, දුබල කම නිසා ඉවසලත් නෑ. සමහර අය කුහකකම නිසා, ඒ කියන්නෙ හිටපන්කො මං උඹට දෙන්නම් කියලා එහෙම ඉවසගෙන ඉන්නවා ඕන දෙයක්. පස්සෙ තමයි එයා වැඩේ දෙන්නෙ. එහෙම ඉවසලා නෑ මහා බෝධිසත්ත්වයෝ. ඒ වගේ නිහඬව ඉන්න එක දුකින් නිදහස් වෙන්න උපකාරී වෙන්නෙත් නෑ, ඊටපස්සෙ සමහර අය ධනය ලැබෙන නිසා, රැකියාවක් කරද්දි අපි කියමුකො යම්කිසි ප්‍රධානියෙක් සේවකයාට සැරවැර කරද්දි සේවකයා හිස පාත් කරගෙන ඉන්නෙ අනේ ඕන එකෙක්ගෙන් බැනුම් අහලා හරි කමක් නෑ, ජීවිතේ ගැටගහගන්න මාසෙ අන්තිමට පඩි හම්බෙනවානම්. ඒ ඉවසීම දුක් කෙළවර කරන්න උපකාරී වෙන්නෑ. නමුත් ඔහු තුළත් යම් ඉවසීමක් තියෙනවා. මහා බෝධිසත්ත්වයෝ සංසාරේ මේ ක්ෂාන්ති පාරමිතාව ඉවසීම නැමැති පාරමිතාව වැඩුවේ දුකින් නිදහස් වීම පිණිසමයි. කවුරුහරි බනිද්දි ඉවසන්නෙ, මම මේක ඉවසුවෙ නැත්නම් දුකින් කොහොමද නිදහස් වෙන්නේ කියලා. ඉතින් ඒ නිසා ඒ විදියට අනන්ත අපරිමාණ ඉවසීමක් තිබුනා. ඉතින් මේ කරුණු කාරණා තේරුම් ගන්න. මේ පින්වතුන්ට මං කියන්නම්. දැන් ඉස්සෙල්ලාම සීලවරාජ ජාතකය කියලා තියෙනවා. ඒ සීලව රජතුමා සතුරන් විසින් අල්ලගනිද්දි ඒ සීලව රජතුමා ඒ සතුරන්ට වචනයක්වත් ප්‍රකාශ කලේ නෑ. කඩුවක්වත් කාටවක්වත් ඔසවන්න දුන්නෑ, අනේක අපරිමාණ වේදනා ඉවසුවා. ඒ රජතුමා පොළොවේ වලේ ලෑවා දාහක් ඇමතිවරුත් එක්ක. ඒත් ඒ හැම එකක්ම ඉවසගෙන හිටියා. ඊටපස්සෙ ඔළු ටික විතරක් දැන් සොහොනෙ තියෙනවා. රාත්‍රී කාලයේ සොහොන මිනී කන්න හිවල්ලු එනවා. එතකොට මේ සීලව රජතුමා ශබ්ද නග නගා ඒ සෑම දේකටම මුහුණ දුන්නා. එතකොට අභියෝගයකට මුහුණ දෙන්න පුලුවන් හැකියාව. ජීවිත සියදහස් ගාණක් මේ හැමදෙයක්ම ඉවසගෙන හිටියා. දුක් ඉවසුවා. හොඳම කාරණාව තමයි මේ පින්වතුන් කවුරුත් දන්න ඉවසීම

පිළිබඳ ක්ෂාන්තිවාදී ජාතකය. මහා භවභෝග තියෙන මේ බ්‍රාහ්මණ පුත්‍රයා මේ සියල්ල අත්හැරලා ගියා. දන්දීලා ගියා. ඇයි මේ භවභෝග තියෙන ඒවා අපි කොච්චර රැස්කර ගත්තත් අතහැරලා යන්න වෙනවාමනෙ. අවසානේ ආච්චිලාගේ සීයලාගේ මුතුන් මිත්තන්ගේ කියලා බඩුමුට්ටු ගොඩාක් ඉතුරුවෙනවා. ඉතින් ඒ මිනිස්සු අරන් ගියෙත් නෑ, ඉතින් තමනුත් ඉතිරි කරගන්නවානෙ. ඒවත් දරුවන්ට ඉතිරි වෙනවා. දරුවොත් තව එකතු කරගන්නවා. එකතු වෙවී යනවා. තමන්ටත් නෑ, අනුන්ටත් නෑ. මේවා තමන් සංසාරෙන් ගෙනියන්නෙ කොහොමද, ගෙනියන්නෙ දන් දීලා. ඉතින් ඒ බ්‍රාහ්මණ පුත්‍රයා ඒවා දන් දීලා තපස් රකින්න ගියා. ඔහු තමන්ගෙ තපස බවට පත්කරගත්තා, ඉවසන එක. අතපය කැපුවත්, හදවත ගැලෙව්වත්, ඇස් ඉගිල්ලුවත් ඉවසනවා. ඉතින් මේ බ්‍රාහ්මණයා ලුණු ඇඹුල් හොයන්න රාජධානියට ආවට පස්සෙ රජතුමා පැහැදිලා කිව්වා, උයනේ ඉන්න හැමදාම දානෙ එවන්නම්. දැන් උද්‍යානයේ ලස්සනට මල් වවලා, ගස්කොළං තියෙන ආරණ්‍යයක්. ඒ උද්‍යානයේ දැන් ඉන්නවා. ඉන්නකොට දවසක් කලාබ කියන රජ්ජුරුවො හොඳටම බීලා, හොඳටම බීලා දැන් රජ්ජුරුවො ඒ වනයට ගියා. ඒ අන්තඃපුර කාන්තාවොත් එක්ක. ඉතින් කාන්තාවො නටනවා, ගයනවා, වයනවා, ඉතින් කෙළිදෙළෙන් වාසය කරනවා. ඉතින් රජතුමාට බීලා නිදිමත හැදුනා, ළඟ හිටපු බිසවක්ගෙ ඔඩොක්කුවෙ නිදාගත්තා. අනිත් අය දැන් සින්දු කියනවා. රජතුමාට නින්ද ගියා. ඉතින් අනිත් අය කල්පනා කලා අපි නිකං සින්දු කියලා වැඩක් නෑ කියලා අපි උද්‍යානය බලන්න යමු කියලා, ඒ වාදන භාණ්ඩ එතනම දාගෙන අවට පොඩ්ඩක් ඇවිද්දා. ඇවිදිනකොට දැක්කා අර තාපසයින් වහන්සේ. දැකලා ඒ කාන්තාවො ටික කිව්වා අපි එහෙනම් බණ ටිකක් අහමු කියලා වටවෙලා, ස්වාමීනී, අපිට කලාතුරකින් ඔබවහන්සේ වගේ කෙනෙක් දකින්න ලැබෙන්නෙ, අපිට මොනවාහරි හිත හැදෙන්න බණක් කියන්න. ඊටපස්සෙ කිව්වා බිසෝවරුනි, ඉවසීම, හැමදෙයක්ම ඉවසන්න පුරුදු වෙන්න කියලා. ඊටපස්සෙ පින්වතුනි දැන් මෙහෙම ඉන්නකොට අර ඔඩොක්කුවෙ හිටියානෙ, කාන්තාවක්ගේ ඔඩොක්කුවෙනෙ රජ්ජුරුවො ඔළුව තියාගෙන හිටියෙ. ඒ කාන්තාව දැක්කා ඈත අර තාපසයින් වහන්සේගෙන් බණ අහන කාන්තාවන්. මේකිට ඊරිසියාවක් ආවා. ඇවිල්ලා ඉවසාගන්න බැරිව එකපාරම රජතුමාට කතා කරලා, රජතුමනි නැගිටින්න කියනවා. රජතුමා වෙරිමරගාතෙ කෑගහගෙන නැගිට්ටා මොකද යකෝ කියලා. ඊටපස්සෙ මේ බලන්න කිව්වා. වාදන භාණ්ඩ තියෙනවා මොකුත් නෑ. කෝ මේ වසලියො ටික කිව්වා. ආන්න,

ආන්න අර තාපසයෙක්ට වසඟ වෙලා ඉන්නවා. මං එපා කියද්දිත් ගියෙ. ඔබවහන්සේ තඹ දොයිතුවකට ගණන් ගන්නැතිව ආන්න ගියා කිව්වා. ඒ රජතුමා තට තට ගාලා වෙව්ලන්න ගත්තා, ක්‍රෝධය. වෙව්ලන්න ගත්තා. කඩුව අරගෙන වේගයෙන් ගිහිල්ලා, කොහෙද තොපි ඉන්නෙ කියලා, අර කාන්තාවෝ ටික දුවගෙන ගිහිල්ලා රජතුමාගේ අතින් අල්ලගෙන කඩුව අයින් කරලා අනේ ඉවසන්න රජතුමනි, මේ හොඳ තාපසයින් වහන්සේ නමක්. හොඳ තාපසයා තමයි, කියලා ළඟට ගිහිල්ලා, දැන් වෙරිමතේනෙ, කෑගහලා කිව්වා තෝ මොනවද මුන්ට කියපු බණ. අනේ රජතුමනි, මං කියන බණ තමයි ඉවසන්න කියලා. ඉවසනවා, තොගේ මොකක්ද තියෙන ඉවසීම කිව්වා. කිව්වා මං ඉවසනවා මගේ අතපය කැපුවත් මං ඉවසන කෙනෙක් කිව්වා. තරහා ගන්නෑ කිව්වා කවුරුත් ගැන. ආ ඒක මං බලාගන්නම් කිව්වා, රාජපුරුෂය දැන්ම එන්න කියාපං වධකයාට. එතකොට වධකයා, සූදානම් වෙලා ඉන්නෙ ඔක්කෝම ටික රජ මාළිගාවෙ. අණ කියපු ගමන් ඒ වෙලාවට එනවා. කටු තියෙන කසය අරගෙන,පොරොව අරගෙන, වද මල් මාලා දැමූ, රතු වස්ත්‍ර ඇඳපු ඒ මහා පෝරිසාදයා එතෙන්ට කඩාපාත් වුනා. කිව්වා මේන්න මේකට, මේ හොරෙක්, තාපසයෙක් විදියට ඉන්නවා, මේකට දැන් තලාපිය කිව්වා. ඊටපස්සෙ කොණ්ඩෙන් ඇදලා බිම දාලා අර කාන්තාවෝ අඬද්දිත් දෙවිවරු සංවේගයට පත්වෙලා සිටිද්දි කටු තියෙන කසයෙන් ක්ෂාන්තිවාදී තාපසතුමාට තැලුවා. තලලා, තලලා තලලා ඇඟ පුරාම ලේ. මස් කෑළි කැඩි කැඩී විසිවෙනවා. අවසානෙ ඇහුවා දැන් තොගේ බණ කොහොමද කියලා ඇහුවා. අනේ රජතුමනි, මේ හමේවත් මස්වලවත් තියෙන එකක් නෙවෙයි, ඉවසීම කියන එක. ඒක මගේ හදමඩලේ තියෙන එකක් කිව්වා. මේකගේ කට බලාපිය කිව්වා. කපපිය කිව්වා කකුල. ඉතින් අර පෝරිසාදය එහේම්මම අතපය කැපුවා. අර අතපය වලින් ලේ විදිනවා. දැන් කොහොමද තොගේ බණ කියලා ඇහුවා. දැන් කොහොමද උඹගේ බණ කියලා ඇහුවා. අනේ රජතුමනි අත පය වල තියෙන එකක් නෙවෙයි කිව්වා ඉවසීම. මේකගේ කට තවම වැහිලා නෑනෙ, කපාපං කිව්වා නහයයි කන්දෙකයි, නහයයි කන්දෙකයි කැපුවා. ලේ විදිනවා. දැන් කොහොමද තොගේ බණ. රජතුමනි ඉවසීම කියන එක හදවතේ තියෙන එකක් කිව්වා. අනේ තෝගේ මනස්ගාත ඉවසීම කියල පයින්ගහලා ගියා. පයින්ගහලා දොරටුව ළඟටම එනකොට මේ පොළොව මඩ තැවරුණ රෙද්දක් දෙබෑ වෙලා යනවා වගේ පොළොව දෙබෑ වෙලා ගිහිල්ලා අවීචියෙන් මතුවුනු ගිනිදැල්වලින් පරම්පරාවෙන් ලැබුනු දායාදයක් රැගෙන යනවා වගේ කලාභ

රජ්ජුරුවො අවීචි මහා නරකාදියට අරන් ගියා, මහාපොළොව පලාගෙන ගියා. ඊටපස්සෙ ඒ ක්ෂාන්තිවාදී තාපසතුමා ගාවට ඒ සෙන්පතියෙක් පැහැදිලා දුවගෙන එනවා ආරංචි වෙලා. එනකොට කඳක් විතරක් තියෙනවා අත පය නෑ, නහය නෑ, කන් නෑ, ලේ පිහ පිහා අනේ ඔබවහන්සේ වාගේ උග්‍ර තපස් ඇති උත්තමයෙක්, තරහක් ආවොත් ඔය රජා ගැන විතරක් හිතන්න, අනේ මේ රටවැසියා ගැන නම් තරහක් ඇති කරගන්න එපා, ඒක අපිට බොහෝ කාලයක් අහිත පිණිස පවතියි. ඉතින් ඒ ක්ෂාන්තිවාදී තාපසතුමා කියනවා මගේ ඔය අතපය කැලිකපලා ඔය දාපු රජතුමා ගැනවත්, රටවැසියෝ ගැනවත්, කවුරු ගැනවත් මගේ හිතේ තරහක් නම් උපදින්නෑ, මෛත්‍රියක්මයි තියෙන්නෙ කියනවා. මම තරහා ගත්තොත් ලොව්තුරා සම්බුදු බවට කොහොම නම් පත්වෙන්නද. දැන් බලන්න ඉවසීම තියෙන්නෙ දුකින් නිදහස් වීම අරමුණු කරගෙන. ඊටපස්සෙ එහේම්මම ඒ තාපසයින් වහන්සේ එහෙම්මම මැරිලා ගියා. කලාභ රජ්ජුරුවො දේවදත්ත. ඒ ඇමැතිතුමා සාරිපුත්තයන් වහන්සේ. ඉතින් ඔය විදියට තමයි අපේ මහා බෝධිසත්ත්වයෝ, ක්ෂාන්තිවාදී තාපසතුමා අතපය කපද්දිනුත් ඉවසුවා. ඒ ඉවසලා තමයි බුදුරජාණන් වහන්සේ ලොව්තුරා සම්බුදු වුනාට පස්සෙ වදාළේ පින්වත් මහණෙනි, මේ සසර දුකින් නිදහස් වෙන්න නම් ඔබ කියතකින් කැපුවත් තරහ ගන්නෑ කියලා අධිෂ්ටාන කරගන්න කිව්වා. යම්කිසි කෙනෙක් කියතකින් කපද්දිනුත් තරහ ගන්නවා නම් එයා මගේ අනුශාසනාව සිහි කරන කෙනෙක් නෙවෙයි කිව්වා. උන්වහන්සේ ශ්‍රාවකයන්ට මේ විදියට අනුශාසනා කලේ නිකම් වචනෙට නෙවෙයි. සම්බුදුරජාණන් වහන්සේ නමක් ගැන කවර කතාද. පෙරුම්පුරන සංසාරයේ අතපය කන් නාසාදිය කපද්දිනුත් තරහක් ඇති කරගත්තෙ නෑනෙ. මේක ආශ්චර්‍යයක්, තරහ ගන්නෑ කියන එක. ආශ්චර්‍ය අද්භූත කාරණාවක් විදියට තේරෙන්නෙ තරහ යන කෙනාට. කෝප නොවී ඉන්නවා කියන එක තේරෙන්න තරහ යන කෙනාට. අතපය කැපිල්ල ගැන කවර කතාද, මදුරුවෙක් කනකොට මදුරුවාගේ පරම්පරාවම මතක් කරලා බනිනවානෙ. මදුරුවා ප්‍රාණයක් කියලා හරි කියන්න පුලුවන්. පාරෙ යනකොට තමන්ගේ වරදින් කකුල වැදෙනකොට ගලක, ගලේ මව් මතක් කරලා බනිනවානෙ. එතකොට මිනිස්සුන්ගේ හිත් වල තියෙන ආවේගය ඉවසීම නැති බව කොච්චරද. දැන් පින්වතුනි යම්තාක් හිරගෙවල් තියෙනවා නම්, ඒ හැම හිරගෙදරකම කතාව ඉවසපු නැති කතාවක් නේද. මොකක්හරි පවුලක් කඩාකප්පල් වෙලා තියෙනවානම්, ඔය පවුලක් කඩාකප්පල් වීමේ කතාව ඉවසීම නැතිවීම නේද.

ඊටපස්සෙ යම්කිසි පවුල් අර්බුදයක් තියෙනවා නම් ඒ අර්බුදයේ කතන්දරේ ඉවසීම නැතිවීම නේද. නොහොඳ නෝක්කාඩු පවුල්වල තියෙනවානම් එහි කතන්දරය ඉවසීම නැතිවීම නේද. මගේ බුදුරජාණන් වහන්සේ ඉවසීම අතපය කපද්දිනුත් ඉවසුවා, පාරමිතාවක්. මේ තුන් ලෝක ධාතුවේම බුදුරජාණන් වහන්සේ තරම් ඉවසන තවත් කෙනෙක් ඉන්නවාද. මං කීවේ ඒකයි වෙස්සන්තර ජාතකය දෙස බලන්න. වෙස්සන්තර ජාතකයේ තියෙන්නෙ ඉවසීම. අපි දැන් දානය ගැනනෙ කතා කරන්නෙ. පින්වතුනේ තමන්ම දානය දුන්නේ මිනිස්සුන්ට, අවුරුදු කීයක් දන් දුන්නද. මේ ඇතා දුන්නු ගමන් මිනිස්සු කිපුනානේ. ඒ ඇතා වෙස්සන්තර රජ්ජුරුවෝ ඉපදිච්චි දවසෙම ඒ වෙස්සන්තර රජ්ජුරුවන්ගේ පිනට උද්‍යානයේ පහළ වුනු ඇතා. ඇලි ඇතා. තමන්ගෙ පිනට පහළ වෙච්චි ඇතා, තමන් යන එන ඇතා දන්දුන්නා කියලා මොකක්ද මේ මිනිස්සුන්ට තියෙන අමාරුව. මිනිස්සු කලකෝලහාල කලානෙ. අනිත් එක මෙතුවක් කල් මිනිස්සු ඒ ජීවිතේට කෑවෙ වෙස්සන්තර රජ්ජුරුවො දුන්නු දානෙනෙ. වෙස්සන්තර රජ්ජුරුවන්ගේම දෙයක් දන් දෙද්දි වෙස්සන්තර රජ්ජුරුවන්ගෙම දානෙ කාපු මිනිස්සු කිපෙද්දි වෙස්සන්තර රජ්ජුරුවො ඉවසුවානෙ. අපි දැන් කියනවා, වෙස්සන්තර රජ්ජුරුවො දන් දෙද්දි වෙස්සන්තර රජ්ජුරුවන්ට අයිති දේනෙ, ඒ මිනිස්සුන්ට තියෙන අමාරුව මොකක්ද කියලා. වෙස්සන්තර රජ්ජුරුවො ඔය වචනේ කියලා නෑනෙ. මට ලැබිච්ච එක මං දෙද්දින් උඹලට මොකක්ද තියෙන අමාරුව කියලා වෙස්සන්තර රජ්ජුරුවන්ගේ කටින් පිටවුන් නෑනෙ. කොහොම ඉවසීමක්ද. ඊටපස්සෙ මිනිස්සු ටික ඔක්කෝම එකතුවෙලා තමයි මේ රටින් පිටුවහල් කරන්න කිව්වෙ. එතකොට මහරජ්ජුරුවො රටින් පිටුවහල් කරන්න නියෝග කරලා තියෙද්දින් ඉල්ලපු ඉල්ලීම තමයි මම එහෙනම් යනවා නම් මට ආයෙ දානයක් දීගන්න බැරිවෙයි, ඒ නිසා හැම දේකින්ම සීය ගාණෙ මට සත්සීයක් දාන පවත්වන්න හෙට දවස දෙන්න කියලා. අර බැණුම් අහලා තමාව කැලේට නෙරපණ මිනිස්සුන්ටම ආයෙ දානෙ දුන්නනෙ. මෙහෙම පුලුවන්ද වෛරය හිතේ තියාගෙන පුලුවන්ද. ඉවසීම නැතිවීම හිතේ තියාගෙන පුලුවන්ද. ඒකයි කියන්නෙ බුදුරජාණන් වහන්සේ සරණ යන්න කියලා. අපේ දුර්වලතා දැක දැක ඒ සියලු දුර්වලතා ඉක්මවා ගිය නිකෙලෙස් වූ බුදුරජාණන් වහන්සේ සරණ යන්න ඕන. මේ වාගේ විස්තර වෙන ආගමක තියෙනවාද. වෙන ශාස්තෘණ් වහන්සේ නමක් ගැන මේ වගේ කතා තියෙනවාද. සත්‍ය සිදුවීම් තියෙනවාද. මගේ බුදුරජාණන් වහන්සේ මේ විදියට ඉවසුවා, අසංඛෙය්‍ය අප්‍රමාණ ජීවිත වාරයක්, ජීවිත ගාණක්, සංසාරයේ. එක

ජීවිතයක් නෙවෙයි. ඔය කල්පයක් ඇතුලත වාගෙ සිද්ධ වෙච්ච දේවල් තමයි ගොඩාක් ජාතක කතාවල තියෙන්නෙ. මේ කල්පයක් කියන එක සුලු දෙයක් නෙවෙයි පින්වතුනි. කකුසඳ, කෝණාගමන, කාශ්‍යප, ගෞතම කියන බුදුරජාණන් වහන්සේලා හතර නමම පහළ වුනේ මේ කල්පය කොටස් හයකට බෙදුවොත් පළවෙනි කොටසේ. පළවෙනි කොටසේ පහළ වුනේ. මෛත්‍රී බුදුරජාණන් වහන්සේ පහළ වෙන්නෙ මේ කල්පයේ දෙවෙනි කොටසේ. තව කොටස් හතරක් තියෙනවා. ලේසිද කල්පයක් කියන එක. ඉතින් එච්චර දීර්ඝ සංසාරයක් තමයි විග්‍රහ වෙන්නෙ මේ. එච්චර දීර්ඝ සංසාරයේ තරහක් ගන්නෙ නැතිව, මහා බෝධිසත්ත්වයෝ ඉවසලා තියෙනවා. ඊටපස්සෙ ඇලි ඇති දන්දීලා එන ගමන් මන්ත්‍රී දේවිය අනිත්පැත්තට හරවලා තියාගන්නවා කරත්තෙ දේවිය කවුරුහරි ආවොත් කියන්න. කොහාමද. ඊටපස්සෙ බ්‍රාහ්මණයො පිටිපස්සෙන් දුවගෙන එනවා. ඊටපස්සෙ හිතුනද, අපි රටිනුත් පන්නලා තවත් එනවද ඉල්ලන්න කියලා හිතුනද. අපේ ජීවිත වල මිනිස්සුන්ගෙ ජීවිත වල කොච්චර ඕවා තියෙනවාද. අපේ කියන්නෙ මං මේ සමස්ථයක් වශයෙන් කිව්වෙ. ඔයාලගේ ජීවිත දිහා බලන්න. තමන්ටම කෙණෙහෙලිකම් කරලා ආපහු තමන් ළඟටම වැටෙනකොට උඹලා කරන්න පුලුවන් තරම් වද දීලා ආපහු එනවා නේද කියලා මනුස්සයෙකුට සිතිවිල්ලක් හරි එනවානෙ. වෙස්සන්තර රජ්ජුරුවන්ට එහෙම හිතුන්නෑනෙ. ඊටපස්සෙ කරත්තෙ දන් දීලා, දරු පැටවු ඔඩොක්කුවෙ තියාගෙන වඩාගෙන මහා වනයේ යනවානෙ. ඒ මහාවනයේ සීතල උණුසුම හැමදෙයක්ම ඉවසනවානෙ. අර පුංචි දරුපැටව්, මල් කැකුළු දෙකක් වන් දරු පැටවු මොනවා දැනගෙනද. එතකොට රජ්ජුරුවො මන්දබුද්ධිකද. රජ්ජුරුවො මහ නුවණ තියෙන කෙනෙක්නෙ. දරු දුක දැනෙන කෙනෙක්නෙ. ඒ සියල්ල ඉවසුවානෙ. සියල්ල ඉවසුවා. මන්ත්‍රී දේවිය වෙනම තිබ්බා. තමන්ගේ හිතේ හැඟීම් කොච්චර පාලනය කලාද. ඒ හැම එකක්ම ඉවසුවානෙ. ඉවසලා දරුවො දෙන්නා අරගෙන, දරුවො දෙන්නා දන් දුන්නට පස්සෙ වැල් වලින් ගැටගහලා තල තලා යද්දින් තාත්තා කෙනෙක් විදියට හිටපිය කියලා අඩියක් ඉස්සරහට තියන්නැතිව ඉවසුවානෙ. ඒ පුංචි දරුවො ටික ආපහු ඇවිල්ලා අනේ මගේ අප්පච්චි අපිව ආපහු දෙන්න එපා මේකා යකෙක් කියලා කකුල් දෙක අල්ලාගෙන මාව දෙන්නෙපා, දෙන්නෙපා කියලා දරු පැටව් දෙන්නා දෙපැත්තෙන් කෑ ගහනකොට ඇස් දෙකෙන් දරු දුකට ලේ වැටෙද්දි, ඇස්වලින් ලේ වැටිලා තියෙන්නෙ. ඉවසුවානෙ වචනයක් කියන්නැතිව. ඊටපස්සෙ ආයෙ ගිහිල්ලා ආයෙ දරුවො දෙන්නා එනවා. ඇවිල්ලා ජාලිය

කියනවා අනේ මගේ නංගි දෙන්න එපා, නංගි වෙනුවෙන් මං ගුටි කන්නම්, නංගි වෙනුවෙන් මං වැඩ කරන්නම්. මේ සිඟිත්තා දෙන්න එපා කියලා. එහෙම කියද්දි තාත්තා කෙනෙක් විදියට ඉවසුවානෙ. අනේ තාත්තා ඔයාගෙ හිත ගලක්ද කියලා අහලා අවසානෙ නිහඬව ඉන්නකොට, ඔය තාත්තාගෙ හිත ගලක්ද. එහෙනම් අප්පච්චි ඔයා හොඳින් ඉන්න මං යන්නම්. ඔයාලාට යහපතක්ම වේවා කියලා පුංචි දරුවො කියලා යනකොට මේ පපුව පිපිරුවෙ නැත්තෙ කොහොමද. පූර්ණය කරපු ඉවසීම නැමැති පාරමිතාව. බමුණට වචනයක් කියලා නෑ, ආශ්චර්යයි, අද්භූතයි පින්වත්නි මහපොළොව කම්පා වුනේ ඒකනෙ. පොළොව කම්පා වුනේ ඒකනෙ. පින්වතුනි මිනිස්සුන්ගෙ පපුව පුපුරනවා. පපුව පුපුරන්නැතිව ගුණධර්මයෙන් රැකෙනකොට මහපොළොව කම්පා වෙනවා. ඒ වගේ ජීවිත අනන්ත අප්‍රමාණ ප්‍රමාණයක් ඉවසුවා. අර කපි ජාතකයේ, මේ මනුස්ස ජීවිතයේ. කපි ජාතකයේ අර වඳුරාගේ හදවත මෙහෙම නියපොත්තෙන් උගුල්ලලා ලේ මස් එළියට අරන් අර අසත්පුරුෂ වඳුරා යද්දි ඉවසාගෙන හිටියානෙ. ඒ නිසාම අපේ බුදුරජාණන් වහන්සේ සංසාරේ පුරුදු කරපු ක්ෂාන්ති පාරමිතාව නම් සුලුපටු දෙයක් නෙවෙයි. හැම ජීවිතේකම තියෙනවා. සතුරෝ තමාව ආක්‍රමණය කරද්දි ඉවසන එක, ඊළඟට දුක් ඉවසන එක, මැසි මදුරු උවදුරු ඉවසන එක, මේ හැමදෙයක්ම. ඊළඟට සද්දන්ත ජාතකයේ අර සිවුරු පොරවගෙන අසත්පුරුෂයෙක් ඇවිල්ලා ඒ ඇතාගෙ දළ දෙකෙන් රැස් විහිදෙනවා. රියන් නවයක් දිගයි. මහා බල සම්පන්නයි. හැමදාම ඒ ඇතා පසේ බුදුරජාණන් වහන්සේලට දන් දෙනවා. ඒ ඇතා නාලා ගොඩට ඇවිල්ලා හාන්සි වෙලා ඉන්න තැන, වැතිරිලා ඉන්න තැන හරියටම තීරණය කරලා ඒ හරියෙම බිම හාරලා ගස් දාලා හරියටම සිදුරක් තියාගෙන හිටියා, බඩටම විදින්න. ඊටපස්සෙ විස පොවපු ඊතලයකින් විද්දා. එකපාරම වේදනාවක් ආවා. ඒ වේදනාව ආවට පස්සෙ ඒ දැනගත්තා අනිවාර්යයෙන්ම මේක මගේ බඩට වැදුනෙ පිටින් ආපු ඊතලයක් නෙවෙයි මෙතනින් ආවෙ. ඊටපස්සෙ හිමීට හිමීට හොඬවැල බඩ ඇතුලෙන් දාලා ඉව ඇල්ලුවා. දැනුනා මේ ඇතුලෙ වළක් තියෙනවා, කෙනෙක් ඉන්නවා කියලා. එතනින් එහාට කෑ ගැහුවෙ නෑ, මොකද කෑ ගැහුවා නම් ඇත්තු පන්තිය වෙනම ඉන්නවා නව වටක්. ඇවිල්ලා සුනුවිසුණු කරනවා. ඉක්මණට කිව්වා සතුරා සොයන්න කියලා දස දිබ්බාගයට යැව්වා. යශෝධරා එදා ඇතින්නියක් වෙලා. ළඟට වෙලා කඳුළු සලනවා. හොඬවැලෙන් ඇද ඇදා කඳුළු සලනවා. කිව්වා දේවි ඉක්මණට යන්න සතුරා හොයන්න. දැනගත්තා මෙයා දැක්කොත් සුනුවිසුණු කරනවා.

ඊටපස්සෙ ඒ සියලු දෙනා ගියාට පස්සෙ පස් මැත් කරලා අර ලී මැත් කරලා අර ඇතුලේ ඉන්න පුරුෂයාගෙන් ඇහුවා උඹද විද්දෙ මට. ඇයි කියලා ඇහුවා. අපේ රජතුමාගේ දේවීන් වහන්සේට ඔය දළ දෙකේ ඉදලා නාන්න දොළදුකක් ඉපදිලා කිව්වා. ඒ හස්තිරාජයා හොඬවැල වලට දාලා, හොඬවැලෙන් තමයි ඒ මනුස්සයා උඩට අරගෙන තියෙන්නෙ. ඔහොම උඩට ගත්තට පස්සෙ අතේ තියෙන කියතෙන් දළ කපනවා. ඒ දළ කපන්න බෑ මහ දැවැන්ත දළ. ඊටපස්සේ ඒ කියතෙ එක පැත්තක් හොඬවැලෙන් අල්ලගෙන තමන් තමන්ගෙම දළ කපන්න උදව් කරනවා. දන්දීම, ඒ වේදනාව, ඉවසීම, තරහ නොගැනීම, වෛර නොකිරීම, මේ ඔක්කෝම කරන්නෙ ලොව්තුරා සම්බුදු බව පිණිස. මේ විදියට ඉවසපු ජීවිත අසංඛෙය්‍යයි, අප්‍රමාණයි, මහා බෝධිසත්ත්වයෝ. මතකද එදා ධර්මපාල කුමාරයාගේ අතපය කපලා ඒ රජතුමා අතපය කපලා, ඊළඟට ඒ දරුවාගේ පපුව පලලා හදවත උගුල්ලාගෙන අසිමාලකය නැමැති කඩුවේ දාලා කරකවලා තියෙනවා හදවත. ඒකෙන් කඳුලක්වත් එළියට හෙලන්නැතිව ඉවසලා ඉදලා තියෙනවානෙ. තරහෙන් නෙවේනෙ, වෛරයෙන් නෙවේනෙ, පළිගන්න අදහසින් නෙවේනෙ. අද ඕන තරම් කෙනෙක් ගහද්දි කඳුලක් හෙලන්නැතිව කෙනෙක් ඉවසගෙන ඉන්න පුලුවන් තොගෙන් පළිගන්නවා කියලා. මේ එහෙම ඉවසපු ඉවසිල්ලක් නෙවෙයි. ලොව්තුරා සම්බුදු බව පිණිස. මගේ බුදුරජාණන් වහන්සේගේ හදවතේ වෛරක්කාරයෙක් නෑ, දේවදත්තයි වෛරය හදාගත්තෙ. මේ ලෝකයේ පින්වතුනි කෙනෙක්ගේ හදවතේ ගත්තොත් කිසිම ආකාරයකින් පුංචිම කහටක්වත් නැතිව මේ ලෝකයේ කිසිම සත්ත්වයෙක් ගැන පුංචිම කහටක්වත් නැතිව ජීවිතේ ගත කරපු අසංඛෙය්‍ය ගණන් සංසාරෙ ගත කරපු කෙනෙක් ඉන්නවානම් ඒ මහා බෝධිසත්ත්වයෝ. මිනිස්සුන්ගේ හිත්වල කොයිතරම් කෝන්තර තියෙනවාද. අහවලා මට අහවල් දේ කලා, අහවලා මට අහවල් දේ කලා කියලා හිත් ඇතුලේ අංශුවල කහට තියෙනවා. ඊටපස්සෙ මොකක්හරි පරිසරයක් ආපු ගමන් අර පරණ ටික ඔක්කොම ඉස්සරහට එනවා. ඒකනේ සසර. මගේ බුදුරජාණන් වහන්සේ හැමදෙයක්ම ඉවසලා, ඉවසීම නැමැති ගින්නෙන් වෛරය දවලා දැම්මා. ඉවසීම නැමැති ජලයෙන් වෛරය සෝදලා දැව්වා. ඒ නිසා උන්නාන්සේගේ හදවතේ ඉවසීම විතරක් තිබුනා. ඉතින් ඒ නිසා උන්නාන්සේ සම්මා සම්බුද්ධත්වයට පත්වුනු සිද්ධාර්ථ ජීවිතේ උන්වහන්සේ සීතලේ ඉවසපු එක, ඊළඟට රස්නෙ ඉවසපු එක, ඊළඟට ආහාර නැතිව ඉවසපු එක, ඒවා උන්වහන්සේට සසරේ පුරුදු කරපු ඒවා. සාමාන්‍යයෙන් කෙනෙකුට නම් ඒවා කරන්න බෑ, දවස්

පහළොවකට එක මුංඇටයයි. දවස් පහළොවකට එක මුංඇටයක් කාලා මේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණ අතුරුදහන් වුනා. සොහොනෙ ගිහිල්ලා සොහොනෙ මිනී ඔළු උඩ නිදාගෙන තියෙනවා. ඉතින් එහෙම ඉන්නකොට පුංචි දරුවො ඇවිල්ලා අතීතයේ තපස් රකිද්දි තාපසයින් වහන්සේ හෙල්ලෙන්නෙ නෑ කියලා මේ මැරිලද දන්නෑ කියලා කෝටු වලින් කණට අනිනවා, ඊටපස්සෙ ඇඟට මුත්‍රා කරනවා, පයින් ගහනවා, ඒ කිසිම වෙලාවක තරහක් ඇති කරගෙන නෑ. හැමදෙයක්ම ඉවසලා තියෙනවා. එක ජීවිතයක් නම් කමක් නෑ කියන්නකො. ජීවිත අසංඛෙය්‍ය අප්‍රමාණ ප්‍රමාණයක් ඔය විදියට ඉවසලා තියෙනවා. තරහ ගන්නැතිව ඉඳලා තියෙනවා. පින්වතුනි ඔබ තරහා යන කෙනෙක් නම් බුදුරජාණන් වහන්සේම සරණ යන්න. බුදුරජාණන් වහන්සේ සරණ ගියොත් මේ තරහෙන් නම් ගැලවෙන්න පුලුවන්. නැත්නම් කිසිම පිහිටක් නෑ, දැන් කියන්න මේ කියපු පාරමිතා ධර්ම මේ විදියට ප්‍රඥාව කියලා එකක් පුරුදු කරන්න තියෙනවා, ශාස්තෘන් වහන්සේ මෙසේ පුරුදු කලා, ශ්‍රාවකයන්ට මෙසේ වදාළා. වීර්යය කියන එකක් ශාස්තෘන් වහන්සේ මෙසේ පුරුදු කලා, මෙන්න ශ්‍රාවකයන්ට වදාළා. ඊළඟට ඉවසීම මේ විදියට ශාස්තෘන් වහන්සේ පුරුදු කලා. මෙන්න ශ්‍රාවකයන්ට වදාළා. මේ කරුණු ටික කියන්න පුලුවන් ලෝකයේ තියෙන දහම මොකක්ද කියලා කියන්න. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ බුද්ධ ශාසනයේ පමණයි නේද පින්වත්නි. අපිට සරණ යන්න ලැබුනේ තරහ නැති බුදු කෙනෙක්. වෛර කරන්නැති බුදු කෙනෙක්. ඉවසපු කෙනෙක්. සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ඉවසීම ගැන කවර කතාද, මේ අපි කියන්නේ බෝධිසත්ත්ව කාලෙ. බෝධිසත්ත්ව කාලෙ ඉවසපු එක. ඉතින් මේ විදියට අනන්ත අප්‍රමාණ ජීවිත වල, එක ජීවිතයක් ගත්තොත් ඉවසන එක, දැන් එක ජීවිතයක තාපසයින් වහන්සේයි, මට මතක විදියට චුල්ලබෝධි වෙන්න ඕන. ඒ තාපසයින් වහන්සේයි, තාපසියයි, ස්වාමියායි බිරිඳයි. ඒ විදියට හිමාලයේ ඉඳලා ඇවිල්ලා රජතුමාගේ උද්‍යානයේ නවතිනවා. හෙට උදේට පිණ්ඩපාතෙ යන්න. රජතුමාට ආරංචි වෙලා එනවා ලස්සන රුවක් ඒ බිසවගේ. යශෝදරා. ඊටපස්සෙ තාපසයින් වහන්සේගෙන් ඇහුවා මේ කවුද, තාපසියක්. තාපසියක් කියන්නෙ කලින් නම් මගේ බිරිඳ, දැන් නම් තාපසියක්. ඊටපස්සෙ ඉවසන්න පුලුවන්ද කියලා ඇහුවා මෙයාව ඇදගෙන ගියොත්. රජතුමනි ඉවසන්න පුලුවන් වෙයි කියලා කිව්වා. තරහ එන්නැද්ද කියලා ඇහුවා. තරහා ආවත්, තරහ එන්න පුලුවන් කිව්වා, නමුත් මං ඉවසනවා කියලා කිව්වා. ඊටපස්සෙ මෙයා ලස්සන නිසාම ඔය ඉවසීමත් මං ඉතින්

බලන්නම් කියලා ඒ වෙලාවෙම මේ තාපසියගේ අතින් අල්ලගෙන ඇදගෙන ගියා. එහේම්මම ඇස් දෙක පියාගත්තා. නිහඬ වුනා තාපසයින් වහන්සේ. ඊටපස්සෙ මාළිගාවට අරගෙන ගිහිල්ලා ඒ තාපසියට නොයෙක් ආකාරයෙන් කරුණු කිව්වා. තාපසිය ගොඩාක් ඉවසීමේ ගුණ, ඊළඟට තමන්ගේ ගුණ, පතිවෘතාව, මේවා ගැන ගොඩාක් විස්තර කරලා, බඹසර ගැන විස්තර කරලා නොයෙක් දේවල් කියද්දි, ඒ රජතුමා බය වුනා. වෙන ස්ත්‍රීන් වගේ නෙවෙයි කියලා. ආපහු ආවා මේ උද්‍යානයට. ඇවිල්ලා කිව්වා මෙන්න දැන් ගෙනාවා ඔහේගේ තාපසිය. බැලුවා මෙයාට තරහා යනවද කියලා. ම්හ්. පාඩුවේ සිවුරක් මහනවා. ඊටපස්සෙ කිව්වා තරහ හිතුන්නැද්ද. තරහක් නම් ආවා කිව්වා. හැබැයි මං වචනයක් වත් පිටකරන්නෑ කිව්වා. මගේ ඉවසීම කියන එක තියෙනවා කිව්වා. යම්කිසි කෙනෙකුට තරහක් ආවත් වචනෙ පිට කරන්නැත්නම් ඔහු තුළත් සිතාගත නොහැකි ඉවසීමක් තියෙනවා. මේක හිරකරගෙන ඉදලා එකපාරම පනිනවානේ සැරට. හරියට වතුර ටිකක් පීඩනයට ඇවිල්ලා ඇවිල්ලා ඇවිල්ලා ස්ටොක් වෙලා පීඩනයට එක පුංචි සිදුරක් තිබ්බ ගමන් ඒ ස්ටොක් වෙච්චි වතුර ටික විදින විදිල්ල බලන්න. අර ලොකුවට වතුර පාර ගියානම් එච්චර සැරක් නෑ. පුංචියට විදින්නෙ. ඒ වාගේ තමයි කරබාගෙන ඉදලා ඉදලා අවසානෙ එක වචනයක් කියනවා ඔක්කොම කැපිලා යන්න. එතන යම්කිසි පැය ගාණක් හිටියානම් දතකට කාගෙන නිහඬව එයා අයිතිවෙන්නෙ ඉවසීමට නෙවෙයි, ඒ තමයි වෛරයෙන් ආයුධ රැස් කලා. ඒ තිබ්බ නිහඬ බව එතන තියෙන්නෙ. සංසාර දුකින් නිදහස් වෙන්නෙ කොහොමද පින්වතුනි. වටේ පිටේ ඔක්කෝම තමන්ට ගරහද්දි, බනිද්දි, එක එක දේවල් කියද්දි තමනුත් අන් අය වාගෙම තරහවට එනවා නම්, මේ සංසාර දුකෙන් නිදහස් වෙන්නෙ කොහොමද. බිරිඳ ස්වාමියාට බනිද්දි, ස්වාමියා බිරිඳට බනිද්දි ඉවසන්නැත්නම් මේ සසර දුකින් කොහොමද පින්වතුනි නිදහස් වෙන්නෙ. ඉවසීම කියන එක පුදුම විදියට දෙවිවරු වර්ණනා කරන එකක්. දැන් බලන්න අපි ගත්තොත් එහෙම ලංකාවෙ හිටපු දන්දෙන කෙනෙක්නෙ හරිතාලතිස්ස. එයා දන් දෙන කෙනෙක් කියලා දිව්‍යලෝක වල පවා පැතිරිලා ගියානෙ. එතකොට සක්දෙවිඳු වෙස් මාරු කරගෙන ඇවිල්ලා අර ගඟෙන් එගොඩට මෙගොඩට යන විදියට හැදුවානෙ. එතකොට උදේ ඉඳලා හැන්දෑ වෙනකල් මොනවාහරි අමතක වුනානෙ, ආ යං. මොනවාහරි අමතක වුනානෙ යං කියලා එගොඩට යනවා මෙගොඩට එනවා. එතකොට සක්දෙවිඳු බැලුවෙ දානෙ නෙවෙයි එයාගෙ, මෙයාගෙ ඉවසීම තියෙනවද කියලා. සාදුකාර දීලා

ගියා. දැන් හරිතාලතිස්ස ඉන්නෙ සක්දෙව්දුටත් ඉහළින්, තුසිතයේ. ඉවසන කෙනා නම් දෙව්ලොව යනවා යනවාමයි. ඇයි මේ ඉවසන්නේ සසර දුකින් නිදහස් වෙන අදහසින්නෙ. බුදුරජාණන් වහන්සේ සරණ ගිහිල්ලානෙ ඉවසන්නෙ. පව් කරන එක හොඳ නෑ, ආවේගශීලී වෙන එක හොඳ නෑ කියලානෙ. වෙන මොන පිනක් කලේ නැතත්, තෙරුවන් සරණ හිතේ තියාගෙන එයා ඉවසුවොත් එහෙම එයා සුගතියේ යනවාමයි. යදි සච්චා දමා චාගා කන්ත්‍යා නභියෝන්විජ්ජති, බුදුරජාණන් වහන්සේ ආලවකගෙන් අහනවා, ආලවක, ඉවසීමත්, සත්‍යයත්, යදි සච්චා, සත්‍යයත් දමනයත් දන්දීමත් ඉවසීමත් කියන කාරණා හතරට වැඩිය ලෝකයේ උතුම් දේවල් හතරක් තියෙනවා නම් ආලවක උඹ කාගෙන් හරි අහගෙන ඇවිල්ලා මට කියාපං. මේ කරුණු හතරට වැඩිය හතරක් ලෝකෙ තියෙනවාද කියලා. යදි සච්චා දමාචාගා කන්ත්‍යානභියෝන විජ්ජති. බුදුරජාණන් වහන්සේ තුන්ලෝක ධාතුවක් දිවැසින් දකින, බුදුරජාණන් වහන්සේගේ බුදු ඇසටවත් ජේන්නෑ සත්‍යය වචනයයි, දන්දීමයි, ඊළඟට දමනයයි - දමනය කියන්නෙ සන්සිදෙන එකට, ඉන්ද්‍රිය සංවර ආදී- ඊළඟට ඉවසීමයි හැර මේ ලෝකයේ තවත් වටිනා ගුණධර්ම ජේන්නෑ. යම්කිසි කෙනෙකුට ඉවසන්න පුලුවන් නම් එයා බුදුරජාණන් වහන්සේ පවා ප්‍රශංසා කරන අද්භූත ගුණයක් එයාගේ හදවතේ තියෙනවා. ඒ වාගේ අයගෙන් තමයි දෙව්ලොව පිරෙන්නෙ. ඒ වාගේ අයට තමයි ඉක්මණටම නිවන් යන්න පුලුවන් වෙන්නෙ. ඒ නිසා පින්වතුනි ඉවසනවා කියන එක දැන් බුදුරජාණන් වහන්සේ එච්චර වටින නිසා තමයි ශ්‍රාවකයාට වදාළේ පින්වත් මහණෙනි, කියතකින් කැපුවත් ඉවසනවා කියලා අධිෂ්ටාන කරගන්න. යම්කිසි කෙනෙක් කියතකින් කපද්දිනුත් තරහා ඇතිකරගන්නවා නම් එයා මාගේ බුද්ධානුශාසනාව සිහි කරන කෙනෙක් නෙවෙයි. එතකොට බුදුරජාණන් වහන්සේ තමන්ගේ ශ්‍රාවකයා කොච්චර ගුණවත් කෙනෙක් විදියටද දකින්නෙ කියලා බලන්න. තමන්ගේ ශ්‍රාවකයා කොච්චර ගුණවත් කෙනෙක් කරවන්නද හදන්නෙ කියලා බලන්න. යම්කිසි කෙනෙක් ඉවසලා මැරෙනවා නම් එයා බුදුරජාණන් වහන්සේගේ අනුශාසනාව කරලා මැරෙන කෙනෙක්. එයාට ප්‍රතිඵල තියෙනවා. ඉතින් ඒ නිසා පින්වතුනි බුදුරජාණන් වහන්සේ ඒකයි වදාළේ, මේ අපිට ලෝකෙ නොයෙකුත් කරදර කම්කටොළු එනවා. බුදුරජාණන් වහන්සේ වදාළා, උදේට උල් සීයයි, දවල්ට උල් සීයයි, හවසට උල් සීයයි, උල් තුන්සීයක් කන කෙනෙක් අවුරුදු සීයක් ජීවත් වෙලා, දවසට උල් තුන්සීයයි, අවුරුදු සීයක් ජීවත්වෙලා සෝවාන් වෙනවානම් කැමතිවෙන්න කිව්වා. ඒකට

හේතුව පින්වත් මහණෙනි, අපේ ශරීරය, ඔය උල් ගාණ ගණන් කරන්න පුලුවන්. සසරේ යද්දි මෙතෙක් අපේ ශරීරය හරහා ගිය උල් ගාණ ගණන් කරන්න බෑ. එච්චර සංසාර දුකකට වැටිලා තියෙන්නෙ. බලන්න ඒ උල් තුන්සීයම ඉවසන්නේ දවසට උල් තුන්සීය ගාණේ අවුරුදු සීයක් ඉවසන්නෙ, අවුරුදු සීයක් ගිය තැන නිවන් ලැබෙන නිසා, උපමාවට අනුව. ඒ නිවන බලාගෙන දුක ඉවසන්න කියනවා. පින්වතුනි මම කාරණාවක් කියලා දෙන්නම්, ඒ තමයි දැන් ලංකාවේ ස්වාමීන් වහන්සේ නමක්. භාවනා කරනවා සීතලේ. අනෙක් ස්වාමීන් වහන්සේලා කියනවා අනේ මේ සීතලේ එළියටවත් එන්න බැනෙ, ඔබ වහන්සේ කොහොමද භාවනා කරන්නෙ. ආයුෂ්මතුනි, සීත නිරයක් තියෙනවා, ලෝකාන්තරික නිරය, ඒකෙ සීතලට ශරීරවල් පුපුරනවා. ඒකෙ ජීවීන් ඉන්නවා, ඒ දුකින් නිදහස් වෙන්න ඕන කියලා මං මේ සීතලේ සක්මන් කරන්නෙ. ඊටපස්සෙ ගිනිමද්දහනෙ සක්මන් කරනවා. ස්වාමීනී කොහොමද මේ ගිනි අව්වෙ සක්මන් කරන්නෙ. ආයුෂ්මතුනි අවීචි මහානරකාදිය කියලා ගින්දරම තියෙන නිරයක් තියෙනවා. ඉතින් ඒකෙත් සත්ත්වයෝ පැහෙනවානෙ. ඒකෙන් නිදහස් වෙන්නයි මම මේ සක්මන් කරන්නෙ. දැන් බලන්න ලොකු දුකක් හිතපු නිසා මේක දරාගන්න පුලුවන්. පින්වතුනි ඉවසන්න බැරිම සසර දුක හිතන්නැති නිසා. පුංචි දේවල් වලට ඇවිස්සෙන්නෙ සසර දුක හිතෙන් නැති නිසා. සසර දුකේ වැටුනොත් ගිනිදැල් වල අවුරුදු කෝටි ගාණක් වැටෙන එක, තිරිසන් ලෝකෙ, පෙරේත ලෝකෙ, අසුර ලෝකෙ, අර කාලකන්ජික අසුර ලෝකයේ අසුරයෝ යොදුන් තුනක්, කිලෝමීටර් තිහක් විශාල ශරීරයක්, ඔළුව තියන්නෙ ලබු ගෙඩියක් වගේ. කට ඉදිකට්ටක් වගේ. දැන් කොහොමද ඒ ඇඟක් පුරවන්නෙ. එහෙම දුක්ඛිත ලෝක වල තියෙනවානෙ. එහෙම ලෝක වලින් නිදහස් වෙන්න මේ මිනිස්සු කියන දේවල්, මේ එක එකාගෙ කෙණෙහිලිකම් වලින් අපි ඉවසීම අපි නැතිකරගන්න එක කොයිතරම් අපිට පාඩුවක්ද. මේ ගෙදර තමන්ටම තේ ටික හදලා දෙන උයලා පිහලා දෙන තමන්ගේම ස්ත්‍රියාවත් එක්ක තරහා ගන්න එක ඒ ස්වාමිපුරුෂයාට කොච්චර පාඩුවක්ද. කොච්චර හොඳ නැද්ද. ඊළඟට තමන්ට කන්න බොන්න ගෙනත් දෙන, තමන්ට ආරක්ෂාව අභිමානය තියෙන්නෙ ස්වාමියා නිසා. ඒ බිරිඳ ස්වාමියා නිසා කේන්ති ගන්නවා, ඇවිස්සෙනවා කියන්නෙ ඒ බිරිඳට කොච්චර පාඩුවක්ද. ධර්මය කියලා දෙන භික්ෂූන් වහන්සේලාට දායකයෝ තරහා වෙනවා කියලා කියන්නෙ, ඊළඟට කේන්ති ගන්නවා කියන්නෙ කොච්චර පාඩුවක්ද, දායකයො නිසා ස්වාමීන් වහන්සේලා තරහා ගන්නවා කියන්නෙ, අමනාප වෙනවා

කියන්නෙ, ස්වාමීන් වහන්සේලා සැරට වචනයක් කියනවා කියන්නෙ, ඒ ස්වාමීන් වහන්සේලාට කොච්චර පාඩුවක්ද. බලාගෙන යනකොට සකල සත්ත්වයාටම පාඩු වෙවී යනවා. හැබැයි බුදුරජාණන් වහන්සේ මාර්ගය වදාළා පාඩු කරගන්න එපා. ඒ නිසා ඔයාලාගේ ජීවිතයේ දුක් ඇති එක එක ඒවා. ඒ තමයි ඔයාලගේ ජීවිත වල ප්‍රශ්න, අනිත් අයගේ ඇනුම් බැනුම්, අභූත චෝදනා, කරදර හදිහුනියම් සියලු දෙනා අත්හැර යෑම්, මේ ඔක්කෝගෙම දුක ඉදිරියේ නිරය ගැන හිතන්න. නිරයේ දුකත් එක්ක බලනකොට උලක් උඩ හිඳගෙන ඉන්න එක සැපයි. ඒකනෙ අම්බසක්කර ප්‍රේතවත්ථුවේ උල උඩ ඉන්න මනුස්සයාට භූතයෝ ඇවිල්ලා කියන්නෙ උඹ මැරෙන්න එපා කියලා. මොකද නිරයේ දුකට වැඩිය උල උඩ ඉන්න එක හොඳයි. ඔයාලා උල උඩ නෑනෙ, යසට යානවාහන වල යන මිනිස්සු, බස් වල යන මිනිස්සු, ත්‍රීවිල් වල යන මිනිස්සු, ගෙදර හොඳට කොට්ට මෙට්ට ඇඳ ඇතිරිලි තියෙද්දි උලක් උඩ නෙවේනෙ ඉන්නෙ. උල උඩ මනුස්සයාටත් සැපයි කියනවා තිරිසන් ලෝකෙයේ පෙරේත ලෝකය නිරයවල් දිහා බලනකොට. ඒ නිසා ඔයාලගේ ජීවිතයට දුක එනකොට එතනින් එහා දුකක් හිතන්න. ඒ තමයි නිරයේ දුක, සංසාර දුක. ඒවා හිතනකොට තමන්ගේ දුක පෑහිලා යනවා. ඊළඟට මේ දවස්වල කරදර කම්කටොළු එද්දින් හිතන්න, මිනිස්සු දහස්ගණන් මිනිස්සු පිටරටවල මැරෙද්දි අපි ගෙවල්වල මේ පුංචි පුංචි දේවල් වලට ආරවුල් ඇතිකරගන්න හොඳ නෑ. මං මේ කෙටියෙන් කිව්වෙ ඉවසීම කියන එක පුරුදු කරගන්න එක කොයිතරම් හොඳද. ඒ නිසා ඉවසීම කියන එක ගොඩාක් වටිනවා. විශේෂයෙන් මතක තියාගන්න අර ඔබට දුකක් ඇතිවුනොත් එතනින් එහා ඊට වැඩි දුකක් ගැන හිතන්න. දුක් ඇතිවෙන මිනිස්සු සැප මිනිස්සු දිහා බලලා තමයි, දැන් හිනාවක් ගන්න බැරි කෙනා, හිනාවෙන කෙනා දිහා බලලා තමයි මට එහෙම හිනාවෙන්න බෑනෙ කියලා හිතන්නෙ. එතකොට එයා හිතුවා නම් නිරය ගැන, නිරයේ එකෙක්වත් ඉන්නවද හිනාවෙච්ච එකෙක්. ඉතින් ඒ විදියට කල්පනා කලොත් ඉවසීම හදාගන්න පුලුවන්. මතක තියාගන්න කෙටියෙන් පාරමිතාවක් විදියට ලෝකෙ කිසි කෙනෙකුට ළංවෙන්න බැරි විදියට පාරමී පිරුවා ඉවසීමෙන් මගේ බුදුරජාණන් වහන්සේ. ඒ නිසා ඔබ ඉවසන්න කැමැති කෙනෙක් නම්, බුදුසසුනේ පිහිට ගන්න කැමැති කෙනෙක් නම්, තරහා යනවාට කැමති නැත්නම්, දරාගන්න කැමැති නම්, ඒ සියල්ල පාරමිතාවක් විදියට පුරපු ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ඔබටත් ඉවසීම පුලුවන් වෙනවා. ඉවසීම පුරුදු වෙනවා. මේ බුද්ධ ශාසනේ පිහිට ලැබෙනවා. ඒ

නිසා ඔබ සියලු දෙනාට ඉවසීමෙන් පරතෙරට පත්වුනු, පාරමිතාවක් විදියට ඉවසීම පුරුදු කරපු බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණ සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ, ගම්පහ නෙළුම්ගමුව මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ පින්වත් සම්පත් සමරකෝන් මහත්මයා එම මහත්මිය සහ වික්ටෝරියා ප්‍රාන්තයේ මෙල්බර්න් නගරයේ මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ පින්වත් සුරේෂ් සමරකෝන් මහත්මයා, එම මහත්මිය ඇතුළු දූ දරු පිරිස විසින්. ඉතින් අපි ඒ සියලු දෙනා පළමුවෙන්ම සෙත් ප්‍රාර්ථනා කරමු මේ උතුම් පින් බලයෙන් බුදුරජාණන් වහන්සේගේ අනන්ත අපරිමාණ ඉවසීමෙන්, ක්ෂාන්ති පාරමිතාවේ අනන්ත ආනුභාව බලයෙන් මේ ලංකාවටත් ලෝකයටත් ව්‍යසනයක්ව පැවතෙන මේ කොරෝනා වසංගතය දුරින්ම දුරු වේවා, මනුස්ස වර්ගයාට යහපත සැලසේවා. සියලු දෙනාට සෙත සැනසිල්ල වේවා කියලා පළමුවෙන්ම සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වගේම රැස් කරගන්නට යෙදුනා වූ සියලුම පුණ්‍ය ධර්මයන් පින් කැමැති සියලු දෙවියන්ට අනුමෝදන් වී සියලු දෙවියෝ මේ පින්වතුන් සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා පින් අනුමෝදන් කරනවා. ඒ වගේම ඒ සම්පත් මහත්මයාගේ ඒ වගේම මැතිනියගේ පවුල්වල මියපරලොව ගිය ඥාතීන්ට, මේ පින් ඔබ කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන්ට, මේ පින් අනුමෝදන් වී පරලොව යහපත වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම මේ වගේ ධර්මයක් අපිට අහන්න හරි ලැබෙන්නේ මෑත යුගයේ මේ ගෞතම බුද්ධ ශාසනය අපිට මනාව විවර කරලා, මේ ධර්මය මනාව කියලා දුන්නු පරම පූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලුම ස්වාමීන් වහන්සේලාට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට සියලු දෙනාට බුද්ධ ශාසනයේ ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම ගම්පහ නැදුන්ගමුව මහමෙව්නා භාවනා අසපුව ගෞතම බුද්ධ ශාසනයට පූජා කල අප්‍රමාණ පිනක් රැස්කරගත් සම්පත් සමරකෝන් මහත්මයාත් එම මැතිනියත්, වික්ටෝරියා ප්‍රාන්තයේ මෙල්බර්න් නගරයේ මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ සුරේෂ් පුතාත් එම මහත්මියත් සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, ධර්මයේ පිහිට සැලසේවා. ඒ වගේම ඔබ සියලු දෙනාට බුදුරජාණන් වහන්සේගේ අනන්ත ඉවසීමේ

පාරමිතාවේ ගුණානුභාව බලයෙන් ඔබගේ සිත් තුළත් ඉවසීම දරාගැනීම ආදී උතුම් ලෝකෝත්තර ලොව්තුරා ගුණධර්ම පිහිටාවා. ඒ වගේම ධර්මය අහන ඔබ සියලු දෙනාටත් අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයේ දරුවන්, ඒ වගේම ධර්ම දායකත්වය සලසන සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් ගෞතම බුද්ධ ශාසනයේ බුදුරජාණන් වහන්සේ බුදු ඇසින් දුටුවා නම් ඉවසීම තරම් ගුණයක් ලෝකෙ නැතෙයි කියා, ඒ උතුම් ඉවසීම නම් වූ උත්තරීතර ගුණධර්ම හදවතේ පුරුදු කරගන්න නිවන් දකිනා මොහොත දක්වා අසිරිමත් සම්බුදු සරණම පිහිට වේවා. තෙරුවන් බුදුරජාණන් වහන්සේම සරණ යනවා කියලා අධිෂ්ටාන කරගන්න. ධර්මයම සරණ යනවා කියලා, ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා අධිෂ්ටාන කරගන්න. උතුම් තිසරණයේ ආනුභාවයෙන් ගෞතම බුද්ධ ශාසනයේ අපිට පිහිට පිළිසරණ සැලසේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=Hry6XHkv5A8&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=12

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, කලාතුරකින් ලෝකෙට පහළවෙන තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් නිසා අඳුරේ ඉපදිලා, අඳුරේ

ජීවත්වෙලා, අඳුරේම මැරිලා යන අවිද්‍යාවෙන් වැසුණු, තණ්හාවෙන් බැඳුණු, සංසාරයේ කෙළවරක් නැති උපත්වල දුවන මේ සත්ත්වයා සංසාරෙන් නිදහස් වෙනවා බුදුරජාණන් වහන්සේ නමක් පහළ වූ නිසා. බුදුරජාණන් වහන්සේලා පහළ වෙන්නේ ඉතාමත් කලාතුරකින්. බුදුරජාණන් වහන්සේ නමක් ඉතාමත් කලාතුරකින් පහළ වෙලා ශ්‍රී සද්ධර්මය දේශනා කරන්නේ, ඒ බුද්ධ ශාසනයක තමයි අපිටත් දුකින් ගැලවීමක් වෙන්නේ කියන තේරුමට ආවොත් තමයි මේ බුද්ධ ශාසනයේ සරණ සීලය, නැතිනම් තිසරණයේ පිහිටලා පිහිට සලසාගන්නෙ. අපිට මොකාක් කරන්නත්, අපිට යමක්, අපිට ඒ පිහිට දෙන කෙනා ගැන අපිට විශ්වාසයක් තියෙන්න ඕන. ඒ අපිට දෙන පිහිට දෙන ක්‍රමය ගැන අපිට වැටහීමක් තියෙන්න ඕන. එතකොට තමයි එයාට හොඳට පිහිට සලසගන්න පුලුවන් වෙන්නෙ. ඉතින් ඒ නිසා ඒ වගේ අමා මහා නිවන ලබලා දෙන ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ගැන, බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් විදියට අපිට හොඳ තේරුමක් තියෙන්න ඕන. එතකොට තමයි අපිට මේ බුද්ධ ශාසනයේ පිහිට සලසාගන්න අපිට ගොඩාක් පහසුවෙන්නෙ. ඉතින් ඒ සඳහා අත්වැලක් විදියට තමයි මේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සිද්ධ කරන්නෙ. පරම පූජනීය, ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේගේ අවවාද, අනුශාසනා, ආශිර්වාද මැද තමයි මේ පින් කටයුත්ත සිද්ධ වෙන්නෙ. ඉතින් ඒ නිසා අදත් අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන ශ්‍රද්ධා රූපවාහිනිය ඔස්සේත්, ලක්විරු ගුවන්විදුලිය ඔස්සේත් විකාශනය කරවන්ට දායකත්වය දරන්නේ සිංගප්පූරුවේ පදිංචි චතුරංග රත්නායක මහත්මයාත්, කුරුණෑගල පදිංචි සමුද්‍රා රත්නායක මහත්මියත්, දෙමව්පියන් සහ පවුලේ සියලු දෙනා, දරුවන් ඇතුලු සියලු දෙනා එකතුපහදු වෙලා. ඉතින් මේ ඇත්තන්ට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා උතුම් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ගුණ සමුදාය මේ ලෝක සත්ත්වයාට අහන්න සලස්වලා. ඔබට කියලා දෙන මේ දහම් පරියායන්, මිහිඳු මහරහතන් වහන්සේ තමයි මතකයෙන් දරාගෙන ආවෙ. මිහිඳු මහරහතන් වහන්සේ තමයි අමා මහ නිවන ලක්දෙරණට රැගෙන ආවෙ. එතකොට මේ කියන දහම් පරියායන්, මේ බුද්ධ ශාසනයේ පිහිට ලබන්න ඒකාන්තයෙන්ම උපකාරී වෙන නිසාමයි අද දක්වා මේ ධර්මය ඉතුරු වෙලා තියෙන්නෙ. එතකොට සාමාන්‍යයෙන් කෙනෙක් පණ්ඩිතමානීව කල්පනා කලොත් චතුරාර්ය සත්‍යය එහෙම නැත්නම් අභිධර්මය, මේ ආදී වශයෙන්, එහෙමත් නැත්නම් ස්කන්ධ ධාතු ආයතන

වශයෙන් විතරයි අපි බණ අහන්නට ඕනවෙන්නෙ, මේ දස පාරමී, දස උප පාරමී, දස පරමත්ථ පාරමී ආදී බුදුරජාණන් වහන්සේ පෙරුම් පුරපු සංසාර ගමන මේ නිවනට අපිට ඕවා දැනගැනිල්ල වැඩක් වෙන්නෑ කියලා කෙනෙක් කල්පනා කලොත් එහෙම එයා එක ධර්මයක් අල්ලන්න යනවා, තවත් ධර්මයකට ගරහලා. ඒ නිසා පුතෙක් වුනත් අභිමානයෙන් තමන්ගේ පියාගේ වංශකතාව කියන්න දක්ෂ වෙන්න ඕන. පියාගේ ගුණ කියන්න දක්ෂ වෙන්න ඕන. එතකොට තමයි ඒ දරුවා අතිජාත දරුවෙක් වෙන්නෙ. තමන්ගේ පියා ගැන කිසි වචනයක් කියාගන්න දරුවෙකුට හැකියාවක් නැත්නම් ඔවුහු පියවරු ගැන දන්නේ කුමක්ද. ඒ වගේ ලොව්තුරා ශාන්ති නායක අමාමෑණී බුදුරජාණන් වහන්සේ ගැන අපි දන්නෙ නැත්නම්, ඒ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ගුණ කඳ දන්නෙ නැත්නම්, සම්බුදු වන මොහොතේ වජිරාසනයේ අසුන් ගන්න කලින් උන්වහන්සේ පිරූ පාරමී ගුණධර්ම ගැන දන්නෙ නැත්නම්, අපේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ගැන ඒ ශ්‍රාවකයාට තියෙන පැහැදීම මොකක්ද. ඉතින් ඒ නිසා ඒ කරුණු කාරණා මුලින් සිහිපත් කරලා අපි දැන් මේ දවස්වල, දස පාරමී, දස උප පාරමී, දස පරමත්ථ පාරමී ආදී වශයෙන් ඒ සම්මා සම්බුදුරජාණන් වහන්සේ පුරාගෙන ආ ගුණකඳ අපිට ශක්ති පමණින් අපි මේ කතාබහ කරන්නෙ. ඉතින් පින්වත්නි, අපි ගත්තොත් එහෙම අපි මේ වෙනකොට දාන පාරමිතාව, සීල පාරමිතාව, නෙක්ඛම්ම පාරමිතාව, පඤ්ඤා පාරමිතාව, වීර්යය පාරමිතාව, ඊළඟට ඛන්ති ඉවසීම ක්ෂාන්ති පාරමිතාව. ඉතින් මේ පාරමිතා ගැන අපි කතාබහ කලා. අද අපි කතා කරන්නේ සත්‍ය පාරමිතාව. මේ සත්‍යය පාරමිතාව හරී පුදුම සහිතයි. බුදුරජාණන් වහන්සේගේ දස පාරමිතා අතර සත්‍යය පාරමිතාව බැබලි බැබලී තිබෙනවා. අද ලෝක සත්ත්වයාට නැත්තෙත් සත්‍යයක්. කතා කරන වචනයේ සත්‍යය අඩුයි. කරන ක්‍රියාවේ සත්‍යය අඩුයි. ඇත්ත, සත්‍යය කියලා කියන්නේ ඇත්ත ස්වභාවය. හිතන සිතුවිලි වල සත්‍යය අඩුයි. ඉතින් සත්‍යයෙන් තොර වූ කයක් ඇති, සත්‍යයෙන් තොර වූ වචන ඇති, සත්‍යයෙන් තොර වූ සිතිවිලි ඇති මනුෂ්‍යයා සත්‍යයෙන් තොර දේවල් පිටිපස්සේම යනවා. දැන් අපි බලමු ගොඩාක් අය චිත්‍රපටි, නාට්‍යය ඒවට හරි ආසයි. ඇත්තටම බැලුවොත් චිත්‍රපටි, නාට්‍යය කියලා කියන්නෙ සත්‍යය නෙවෙයිනෙ. ඒවා උපකල්පනනෙ. රඟපාපු දේවල්නෙ. මනුස්සයා බලෙන් සතුටු කරන්න හදන දේවල්නෙ. මනුස්සයා බලෙන් අඬවන්න හදන දේවල්නෙ. මනුස්සයා බලෙන් බය කරවන්න හදන දේවල්නෙ. මනුස්සයා බලෙන් හිනස්සවන්න හදන දේවල්නෙ. ඔච්චර කැමතිද

කට්ටිය ඒවට. තමනුත් මුලාවේ ඉඳලා මුලාවට කැමති දෙයක් පිටිපස්සේම යනවා. ඊළඟට ගොඩාක් අය කැමැතියි හීන, භූත, අද්භූත දේවල් වලට. එතකොට තමනුත් මුලාවෙ ඉඳලා තමනුත් සත්‍යය අවබෝධයක් නැතිව ඉඳලා, තමනුත් කර්ම ගොඩක ඉඳලා, ද්වේෂය ඇවිල්ලා රාගය ඇවිල්ලා, මෝහය ඇවිල්ලා ඒවගෙනුත් අන්ධ වෙලා, ඒවගෙන්ම අන්ධ වෙලා එක එකාගේ බෙලි මිරිකන, එක එක මිනිස්සුන්ට කොඩිවින අනවින කරන ඒ ඒ අය ළඟටම යනවා. තමනුත් ඒ ස්වභාවයේ ඉඳගෙන ඒ ස්වභාවයෙන් ඉන්න අය ළඟටම යනවා. කවදද පින්වතුනි සත්‍යය අවබෝධ කරන්නෙ. ඊළඟට මේ ලෝකෙ අනිත් ආගම් දිහා බලන්න. ගොඩාක් අය තමනුත් අවිද්‍යාවෙන් වැහිලා ඉඳලා, තමනුත් තෘෂ්ණාවෙන් බැඳිලා ඉවරවෙලා, තමනුත් සංසාරේ යන ගමන්, සංසාරේ යන දෙවිදේවතාවුන් වහන්සේලාම සංසාරේ යන අයම මේ ලෝකෙ මැව්වා කියලා ඒ පිටිපස්සේ යනවා. ඒ අතරතුර යම්කිසි කෙනෙකුට ලැබුනොත් දීපංකර පාද මූලයේ පටන් අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් අනන්ත අප්‍රමාණ කල්ප ගණනක් සත්‍යයම පුරුදු කරපු, ඇත්තම පුරුදු කරපු, ඒ සත්‍යය පාරමිතාවෙන් පරතෙරට පත් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් සරණ යන්න ලැබෙනවා කියන්නේ හිතාගන්න බෑ එයාට ලැබෙන භාග්‍යය. ඉතින් ඒ නිසා තෙරුවන් සරණ යනවා කියන එක සුලුදෙයක් නෙවෙයි. මෙච්චර කාලයක් අපිට සසරේ ගමන් කරද්දි අපිට බැරිවෙච්චි දේ තමයි සරණයේ පිහිටන්න බැරිවුනා. ඒ ශ්‍රද්ධාව අනුව හැසිරෙන්න බැරිවුනා. ශ්‍රද්ධානුසාරී වෙන්න බැරිවුනා. යම් සංසාරයේ අපි බලවත්ව සද්ධානුසාරී වුනා නම් බුද්ධ ශාසනයක ධම්මානුසාරී වුනා නම් බුද්ධ ශාසනයක, ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ වදාළා සද්ධානුසාරී, ධම්මානුසාරී වෙන කෙනා සෝවාන් නොවී කළුරිය කරන්නෑ කියලා. එහෙනම් අපිට මේ සංසාරෙ සෝතාපන්න වෙන්න බැරි වුනේ අපි සද්ධානුසාරී වෙලා නෑ, ධම්මානුසාරී වෙලා නෑ. ඒ නිසා තමයි මතක තියාගන්න සෝවාන් වෙන්න කලින් දැන් අපි කියමු රහත් වෙන්න කලින් අනාගාමී වෙන්න එපෑ. අනාගාමී වෙන්න කලින් සකදාගාමී වෙන්න එපායැ. සකදාගාමී වෙන්න කලින් සෝවාන් වෙන්න එපායැ. සෝවාන් වෙන්න කලින් ධම්මානුසාරී වෙන්න ඕන. ඊට කලින් සද්ධානුසාරී වෙන්න ඕන. ආන්න ඒ මාවතට ඔබට මංපෙත් විවර කිරීම තමයි මේ දහම් වැඩසටහනින් කරන්නෙ. හොඳට ශ්‍රද්ධාව ඇතිකරගැනීම පිණිස උපකාරක ධර්ම ලබලා දෙනවා. ඒක නුවණින් යුතුව මග නොමග තේරෙන නිවන් මාර්ගය දන්න කෙනෙකුට හොඳට තේරෙනවා මේක කොයිතරම් වැදගත්ද බුදුරජාණන් වහන්සේ ගැන පහදින

එක කියලා. ශ්‍රද්ධාව මුල් කරගෙනම බුදුරජාණන් වහන්සේ ගැන තියෙන චිත්ත ප්‍රසාදයම මුල් කරගෙනම මාර්ගඵල ලැබූ කීදෙනෙක් ඉන්නවද. බුදුරජාණන් වහන්සේගේ ප්‍රාතිහාර්යය දැකලාම ඒ ඇතිවෙච්ච චිත්තප්‍රසාදය මුල්කරගෙන කෙලෙස් නැසූ අය කොච්චර සිටිනවාද. ඉතින් ඒ නිසා පින්වත්නි මේ ඉගෙන ගන්න දේවල් ගැන මේ පින්වතුන් සතුටු වෙන්න. ඉතින් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ අසංඛෙය්‍ය හතරකට පෙර දීපංකර බුදුරජාණන් වහන්සේගේ පාද මූලයෙහි යම් දවසක විවරණ ගත්තාද එදා ඉඳලා වජිරාසනයේ අසුන් ගන්න මොහොත දක්වාම ඒ තාක් දිග සංසාරයේ කවදාවත්ම කඩන්නැතිව රැකපු එකම එක සීලයක් තමයි මේ සත්‍යය කියන එක. බොරු කියලා නෑ කවදාවත්. පොරොන්දු කඩලා නෑ කවදාවත්. අසංඛෙය්‍ය හතරක්. එතකොට ඔබට අසංඛෙය්‍ය ගණන් කල්ප අවශ්‍ය නෑ. ඔබ බුදුරජාණන් වහන්සේට පහදින්න. ඔබගේ ජීවිතය බලන්න මේ ජීවිතේ, මේ ජීවිතේ එක බොරුවක් නොකියපු කෙනෙක් ඉන්නවානම් හොයාගන්න, හිතාගන්න බැරිතරම් කෙනෙක් වෙන්න ඕන ඔහු. ඒ තරම් මනුෂ්‍යයාගේ අතින් කොහොමහරි බොරුවක් කියවෙනවා. ගොඩාක් අය අතින් පොරොන්දු කඩ කෙරෙනවා. එතකොට මේවා අයිති සත්‍යයට නෙවෙයි. මහා බෝධිසත්ත්වයන්ගේ අතින් සත්‍යය කඩ වුන් නෑ. ඒක තමයි විශේෂ දේ. සත්‍යය කීම, සත්‍යය රැකීම, සත්‍යය කඩ නොකිරීම. ඉතින් ආපු සංසාරයේ ඒ බොරුවක් කියන්නැතිව හිටියා කියන එක පුදුම සහගත හිතෙන මං සිද්ධියක් කියන්නම් මේ පාරමිතා පුරපු හැටි. හාරිත කියලා ජාතකය කියලා තමයි මේ කන්නදීපායන ජාතකය. හාරිත ජාතකය. ඒකෙ තියෙනවා මහා බෝධිසත්ත්වයෝ වනයට ගිහිල්ලා අෂ්ටසමාපත්ති පඤ්ච අභිඥා අෂ්ට සමාපත්ති උපදවාගෙන ආකාශයෙන් යන එන කෙනෙක්. මහා ඍද්ධිමත් තාපසයෙක්. රජතුමා පැහැදිලා රජතුමා උපස්ථාන කරනවා, රජතුමාගේ ජීවිතයේ එකම ගරුවිඨානි උත්තමයන් වහන්සේ මේ තාපසයින් වහන්සේ. ඉතින් උයනේ තමයි ඉන්නෙ. උයනේ ඉඳලා ආකාසෙන් රජගෙදරට දානයට වඩින්නෙ. ඉතින් රජතුමාගේ දවසේ රාජකෘත්‍යය අතර බැබළෙන කටයුත්ත තමයි ආකාසෙන් වඩින ඍෂීන් වහන්සේට දන් බෙදීම. ඔහොම ඉඳලා මේ රජතුමාට යුද්ධයකට කටයුතු යෙදුනා. දේවීන් වහන්සේට දානෙ පූජා කරන්න පවරලා රජතුමා යුද්ධෙට ගියා. දැන් දේවීන් වහන්සේ දානෙ පූජා කරනවා. දවසක් තාපසයින් වහන්සේ එන්න පරක්කු වුනා. දේවීන් වහන්සේ මොකද කලේ, දානෙ ටික හරිගස්සලා, දානෙ ටික පිළිවෙල කරලා, එන්න පරක්කු

වුනාම ළඟ දුහුල් සළුවක් ඇඳගෙන හිටියේ. ඒ දුහුල් සළුව පොඩ්ඩක් බුරුල් කරලා හාන්සි වෙලා වගේ හිටියා. ඉන්නකොට ආකාසෙන් තාපසයින් වහන්සේ එනවා. තාපසයින් වහන්සේ එනකොට අර වස්ත්‍ර අඳුන් දිවිසම් ආදිය සුළඟට ගැටෙන හඬට එකපාරටම නැගිට්ටා. නැගිටිනකොට සළුව ලිහිලා වැටුනා. එතකොට බලන්න මේ සිතේ තියෙන කෙලෙස්වල ස්වභාවය. අවුරුදු ගණනාවක් ධ්‍යාන සුවයෙන් යටපත් වෙලා තිබුනු ඒ රාග ගින්න පැන නැගුනා. ඊටපස්සෙ මේත් එක්කම ඒ අසද්ධර්මයට කටයුතු යෙදුනා. ආකාසෙන් ආපු තාපසයින් වහන්සේ පා ගමනින් තමයි උයනට ගියෙ. දැන් පා ගමනින් එන්නෙ රජ මාළිගාවට, පා ගමනින් යන්නෙ. මේ සම්බන්ධය දිගටම තියෙනවා, මාළිගාවෙ අයත් දන්නවා, සියලුදෙනා දන්නවා. කිසිකෙනෙක් කතා කරන්නෑ මොකද තාපසයින් වහන්සේ හිතවත් රජ්ජුරුවොත් එක්ක. නමුත් ඇමතිවරු හසුන්පත් යැව්වා රජතුමාට මේ වාගේ අසද්ධර්මයක් සිද්ධ වෙනවා කියලා. රජතුමා පිළිගත්තෙ නෑ, කිසිසේත් පිළිගත්තෙ නෑ. ඊටපස්සෙ යුද්ධෙ ඉවරවෙලා මාළිගාවට ඇවිල්ලා ඔක්කෝම කියනවා පිළිගත්තෙ නෑ. බිසවගෙන් ඇහුවා, බිසව කිව්වා, රජතුමනි සමාවෙන්න ඕන, රජතුමා දෙන දඬුවමක් මට ලබලා දෙන්න, ඇත්තටම එහෙම දෙයක් සිද්ධ වුනා. ඒත් රජතුමා පිළිගත්තෙ නෑ. රජතුමා උයනට ගියා. උයනට ගිහිල්ලා තාපසයින් වහන්සේගෙන් ඇහුවා තාපසයින් වහන්සේ මෙහෙම කතාවක් යනවා. ඔබ වහන්සේට ඊරිසියාවට මුන් කියන කතා මං නම් ඕවා පිළිගන්නෙ නෑ, එතකොට තාපසයින් වහන්සේ කිව්වා නම් ඔය මිනිස්සු ඊරිසියාවට කියන දේවල්, ඔබවහන්සේ දන්නවනේ මේ මගේ තියෙන සීල ගුණ තේජස කියලා කිව්වානම් රජතුමා අනිවාර්යයෙන් ඒක පිළිගන්නවාමයි. ඒ තාපසයින් වහන්සේ ඒ මොහොතෙම කල්පනා කලේ මං ඇත්ත කියන්නැතිව කොහොමද ලොව්තුරා සම්බුදු වෙන්නෙ. රජතුමනි, රජතුමා දෙන දඬුවමක් මට ලබලා දෙන්න. මගේ හිත මුලා වුනා, මගේ හිත ලාමක වුනා, මගේ හිත පිරිහුනා, මගේ අතින් ඒ වගේ වැරැද්දක් සිද්ධ වුනා. ස්වාමීනී කොහොමද මේක සිද්ධ වෙන්නෙ, මට හිතාගන්න බෑ කිව්වා. රජතුමනි, රාගයක් හිතට ආවට පස්සෙ, ක්‍රෝධයක් හිතට ආවට පස්සෙ, ආසාවක් හිතට ආවට පස්සෙ ප්‍රඥාව පිහිටන්නෑ රජතුමනි කිව්වා. ඉතින් ඔබවහන්සේ මහා නුවණැත්තෙක්නෙ. ඔබවහන්සේට තිබ්බනේ මේක දරාගන්න. රජතුමනි මේ කෙලෙස්වල ස්වභාවය මේකයි. ආකාසෙන් යන ඍෂීන් වහන්සේලා බිමට ඇදලා දානවා මේ රාගය විසින්. මේ ස්ත්‍රී රූපය විසින් මේ වාගේ දේවල් සිද්ධ කරනවා කියලා, රජතුමාට වෙච්චි සිද්ධිය පැහැදිලි

කරද්දි තමයි තමන්ට සිහිය ආවෙ. මෙච්චර කාලයක් ඒ සිහිය ආවෙ නෑ තාපසයින් වහන්සේට. රජතුමාට සිද්ධිය පැහැදිලි කරද්දි සිහිය ආවා. සිහිය ආපු ගමන් ඇඟ සැහැල්ලු වුනා. රජතුමනි මොහොතක් ඉන්න කියලා එහේම්ම කුටිය ඇතුලට ගිහිල්ලා භාවනා සුවයෙන් ඉදලා එහෙම ආයෙ අර නැතිවුන ධ්‍යාන උපද්දවාගත්තා. ආකාශයේ ඒත් පහළ වුනා. ආකාශේ ඉදලා කිව්වා රජතුමනි, විසභාග අරමුණුත් එක්ක ඉන්න සිද්ධ වුනු නිසා මේ හානිය සිද්ධ වුනේ. මං හිමාලයට යනවා කියලා, රජතුමා හඬද්දී වැළපෙද්දී ආපහු හිමාලයට ගියා. එතකොට ඒකෙ එකක් තියෙනවා වැරැද්ද වැරැද්ද වශයෙන් දැකලා හදාගැනීමෙන් ආයෙ ගුණධර්ම උපදවන්න පුලුවන්. අනිත් එක තමයි අර වෙලාවෙ ඒක කියපු එකනෙ එතන තියෙන ආශ්චර්‍යය දේ. ඒ සත්‍යය කියපු එකනෙ. ඇත්තටම පින්වතුනි යම්කිසි කෙනෙක් වැරැද්දක් කෙරුවා නම්, ඒ වැරැද්ද එයා අවංකවම ඇත්තටම පිළිගන්නවා නම්, මේ ජීවිතේ පවා, කරපු වැරැද්දේ දඬුවම් අඩුවෙනවා ඒ වැරැද්ද පිළිගත්තොත්. මේ ජීවිතේ නීතියෙන් පවා අඩුවෙනවා. ඇත්තටම වැරැද්දක් වුනාට පස්සෙ ඒ සත්‍යය පිළිගන්නවා කියලා කියන එක සුලුපටු කුසලයක් නෙවෙයි. බුදුරජාණන් වහන්සේ දේශනා කරලා තියෙනවා යම්කිසි කෙනෙක් වැරැද්දක් කරලා ඒ වැරැද්ද පිළිගන්නේ නැත්නම්, එයා මැරුණට පස්සේ දුගතියේ යනවා. වැරැද්ද නිසා දුගතියේ යනවා කියන එක නෙවෙයි එතන විස්තර කරන්නෙ, වැරැද්ද පිළිගත්තේ නැත්නම් දුගතියේ යනවා කියලා. මහා බෝධිසත්ත්වයෝ අසංඛෙය්‍ය ගණනාවක් සංසාරයේ කවදාවත් බොරුවක් නම් කියලා නෑ පින්වත්නි. සත්‍යයමයි කියලා තියෙන්නෙ. එකම එක බොරුවක්වත් කියලා නෑ. ඉතින් ඒ නිසා මේ විදියට සත්‍ය පාරමිතාව පිරුවා, අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක්, අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් බොරුවක් කිව්වෙ නෑ කියලා යමක් ඇද්ද එහෙනම් ඒකාන්තයෙන් ආශ්චර්‍යයයි, ඒකාන්නතයෙන් අද්භූතයි. දැන් සතියක් ඉන්න බලන්න බොරුවක් කියන්නැතිව. මාසයක් ඉන්න. අවුරුද්දක් ඉන්න. මේක කරන්න යන කෙනාටයි මේ දුෂ්කර බව තේරෙන්නෙ. ඒ නිසා ඔබ සත්‍යය කියන්න කැමැති නම් පුරා සංසාරයම බොරුවක් කියපු නැති, වජිරාසනයේ සම්මා සම්බුදු වෙලා සත්‍ය වචනයෙන්ම දහම් දෙසූ සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ඉතින් පින්වතුනි, ඒ බුදුරජාණන් වහන්සේ තමා තුළ තියෙන සත්‍යය, ඒ සත්‍යයෙන් සත්‍යක්‍රියා කර කරා ආවා. ඒ සත්‍යය ලෝකෙට ඒ මොහොතෙම පෙන්නුවා. එහෙම අවස්ථා ටිකක් මං කියන්නම්. ඒ තමයි කන්නදීපායන කියලා ජාතකයක් තියෙනවා, ඒක දීර්ඝ ජාතක කතාවක්. මං

අවශ්‍ය සිදුවීම ගන්නම්. ඒ තමයි තාපසයො දෙන්නෙක් ඉඳලා එක තාපසයෙක් සිවුරු හැරලා ස්ත්‍රියක් එක්ක විවාහ වෙලා දරුවෙක් ලැබුනා. ඉතින් ඒ තාපසයින් වහන්සේට හිතුනා අනිත් තාපසයින් වහන්සේ බලන්න යන්න ඕන කියලා දැන් දරුවත් අරගෙන ඇඹණියත් අරගෙන වනයට යනවා. දැන් තාපසයින් වහන්සේ ඉන්නවා. ඉතින් තාපසයින් වහන්සේ එක්ක මේ දෙන්නා කතා කරල වැඳලාපුදලා පළතුරු එලවැල පූජා කරලා පොඩ් කොල්ලා එහෙ මෙහෙ ඇවිදිනකොට සර්පයෙක් පැගිලා දෂ්ඨ කලා. එහෙම්මම නිල්වෙලා වැටුනා කටින් පෙණ දාගෙන. ඒ සද්දෙට අම්මා ගිහිල්ලා දුවගෙන ඇවිල්ලා, තාපසයින් වහන්සේ ඉදිරියේ තියලා කියනවා, මෙන්න සිහිමූර්ඡා වෙලා ඉන්නවා. තාපසයින් වහන්සේලා වෙදහෙදකම් දන්නවා, මන්ත්‍ර විද්‍යාව දන්නවා. අනේ මගේ දරුවා සුව කරන්න. ඊටපස්සෙ කියනවා, අනේ මං මහණ වුනේ යන්ත්‍ර මන්ත්‍ර විද්‍යා ඉගෙනගන්නවත්, වෙදහෙදකම් පිණිසවත් නෙවෙයි, එහෙනම් අනේ කොහොමහරි දරුවා සුව කරන්න කිව්වා. ඉතින් එහෙමනම් මං ගාව යම් ශක්තියක් තියෙනවා, මං ඒ ශක්තියෙන් දරුවා සුව කරන්නම් කියලා කලේ උන්වහන්සේ කිව්වා, මං අවුරුදු හතයි, දැන් මහණ වෙලා අවුරුදු පනහකට වැඩියි, දවස් හතයි මං කැමැත්තෙන් මහණකමේ හිටියේ. කැමැත්තෙන් මහණකමේ හිටියේ දවස් හතයි. අවුරුදු පනහකට වැඩි කාලයක් මම මහණකම කලේ අකමැත්තෙන්. ගෙවල්වල වස්තුව දන්දීලා මහාසාර කුලයකින් මහණ වෙන්න ඇවිල්ලා ආපහු ගෙදර ගියොත් එහෙම නින්දා ලැබෙනවා. මේකා කාලකණ්ණියෙක් කියලා. ඒ නිසා මම ඒ නින්දා ලබන්න අකමැත්තෙන්, අකමැත්තෙන් මේ සිවුර පොරවාගෙන සිල් කඩන්නැතිව, පින් පව් විශ්වාස කරගෙන මේ ඉන්නවා. මං අකමැත්තෙන් නමුත් කිසි කෙනෙකුට දැනෙන්නැතිව මං මේ මහණකම රැක්ක බව සැබෑවක් නම්, ඒක සත්‍යයි, සත්‍යානුභාවයෙන් දරුවාගේ විස මගහැරේවා කියලා. එහේම්මම දරුවගේ ඇඟේ නිල නැතිවෙලා ඇස් දෙක ඇරියා. හැබැයි ළමයට නැගිටින්න බෑ, කිව්වා ඔන්න මට කරන්න පුලුවන්නෙ මෙච්චරයි. ඔන්න දැන් ඔහේ මොනවාහරි කරන්න. ඔන්න දැන් ළමයාගේ තාත්තා කිව්වා, මං අපේ ගෙදර එන ශ්‍රමණ බ්‍රාහ්මණවරුන්ට, යාචකයන්ට දන්දෙනවා. හැබැයි ශ්‍රමණ බ්‍රාහ්මණවරුන්ට යාචකයන්ට දන් දෙන්න මං පොඩ්ඩක්වත් කැමති නෑ, මට අප්පිරියයි. මේ ගෙනාපු එලවැල ටික පවා දෙන එක මට අප්පිරියයි. මං කැමති නෑ කාටවත් දෙන්න. ඒ වුනාට මං ඒක කාටවත් පෙන්නලා නෑ අද වෙනකල්. කිසි කෙනෙක් දන්නෙ නෑ මං මේවා දෙන්නේ අකමැත්තෙන් කියලා. ඒක සත්‍යයක්. ඒ

සත්‍යානුභාවයෙන් විස බැසේවා කියලා. එතකොට අර දරුවා නැගිට්ටානෙ. මෙහෙම ඉඳගත්තා. දැන් ඇවිදගන්න බෑ, අම්මට කිව්වා ඔයා සත්‍යක්‍රියා කරන්න. අම්මා කිව්වා, මට මෙතන බෑ, මෙතන බැරි කතාවක් නෑ කියන්න පුලුවන් හෝ බැරි එකක් හෝ කියලා දරුවව බේරගන්න. ඊටපස්සෙ කිව්වා එහෙනම් මේ මගේ දරුවාට, මගේ ප්‍රියමනාප දරුවාට යම්කිසි සර්පයෙක් දෂ්ට කලා නම් ඒ සර්පයා මට අප්පිරියයි, අමනාපයි, පිළිකුල්. ඒ වගේම තමයි මං බැන්ද මිනිහා. බැඳපු දවසේම මට අප්පිරියා වුනේ. පිළිකුල් වුනේ. මට ඔය මිනිහාව පේන්න බෑ, මේ සර්පයා වගේ. ඒත් අද දක්වාම මේ මනුස්සයාට මගේ වචනයකනිවත්, ඇඟේ බැල්මකින්වත්, ක්‍රියාවකින්වත් මම එයාට පොඩ්ඩක් වත් එයාට අකමැතියි කියලා පෙනෙන්න සැලැස්සුවේ නෑ. ඒක සත්‍යයක්, සත්‍යානුභාවයෙන් විස බසීවා කියලා සත්‍යක්‍රියා කරනකොටම දරුවා නැගිට්ටා. කොහොමද සත්‍යය. ඒ කියන්නෙ තමා තුළ තියෙන යම් සත්‍යයක්. මේක සත්‍යයක්, සත්‍යය විදියටම දකින්න පුලුවන්කම. ඒක ආශ්චර්යයී දෙයක්. ඊටපස්සෙ තුන්දෙනාම කරුණු තේරුම් අරන් එදායින් පස්සේ තාපසයින් වහන්සේත් කැමැත්තෙන් බඹසර හැසිරුනා. අරයත් කැමැත්තෙන් දන් දුන්නා. ඊළඟට මෙයා ස්වාමියාට ප්‍රියමනාප වෙලා හිටියා. එතකොට ඔය ඒ කාලෙ මහා බෝධිසත්ත්වයෝ සත්‍යක්‍රියා කරපු විදිය. ඊළඟට මහා බෝධිසත්ත්වයෝ සත්‍යය පුරුදු කරපු විදියක්. ඒ තමයි මත්ස්‍ය රාජ ජාතකය. මත්ස්‍යරාජ ජාතකයේදී උන්වහන්සේ හිටපු විලේ වතුර හිඳිලා ගිහිල්ලා කපුටෝ ඔක්කෝම මාළු කෑවා. මේ මාළුවාට පුලුවන් මඩ ඇතුලේ හැංගිලා ඉන්න. ඒත් කල්පනා කලා මේ මාළු ඔක්කෝම විනාශ කරනවා මේ කපුටො ඇවිල්ලා, මං මගේ සත්‍යයකින්, මගේ ජීවිතේ තියෙන සත්‍ය දේකින් මේ අයට සෙත සලසන්න ඕන. එහෙම හිතලා අධිෂ්ඨාන කලා, මං උපන්දා පටන් අද දක්වාම මේ දියසෙවෙල් මඩ කාලා ජීවත් වෙනවා මිසක්කා මං ප්‍රාණියෙක් ආහාරයට ගත්තෙ නෑ. සාමාන්‍යයෙන් මාළුවෝ තවත් මාළුන් ආහාරයට අරන් ජීවත් වෙන්නෙ. තමන්ගේ වර්ගයාම විනාශ කරනවා. ඉතින් ඒ නිසා මෙයා ප්‍රාණඝාතය කරලා නෑ. ඒ නිසා මේ බෝසත් මාළුවා, අධිෂ්ඨාන කලා. අභිත්තනේ පජ්ජුන්න නිදිං කාකස්සනාසය, පජ්ජුන්න මේ කාක්කන්ගේ නිධානය නැති කරලා දාන්න, ඊළඟට කාකං සෝකාය උන්දේහි, මේ කාක්කො දුකෙන් අඬවලා දාන්න. මච්ඡෝ ශෝකාපාමෝච, මේ මත්ස්‍යයෝ ශෝකයෙන් නිදහස් කරවන්න, සම්මාදේවා පවස්සතු, සුවසේ වැස්ස වහින්න කියලා සත්‍යක්‍රියා කලා මම මේ පුංචි සතෙක්වත් ආහාරයට ගත්තෙ නැති බව සත්‍යයි කියලා. ඒ මොහොතේම

ආකාසෙ වළාකුළු පැන නැගිලා මහා වරුසා ඇදහැලීලා කොසොල් රාජ්‍යය වතුරෙන් යටවෙලා ගියා. එතකොට බොහෝ දෙනාට වතුර නැතිව තිබුනු ඒ නියංසාය දුරුවෙලා ගියා. ඉතින් ඒ නිසා ඒ මාළුවෙක් වෙලා ඉඳලා කරපු සත්‍යක්‍රියාව කොච්චර වටිනවාද කියනවා නම් අදටත් වැසි පිරිත විදියට අපි දේශනා කරන්නෙ ඒ මත්ස්‍ය රාජ පිරිත. අදටත් ඒ සිද්ධිය සත්‍යක්‍රියා කරලා පිරිත් කියනකොට වර්ෂාව වහින්න ගන්නවා. එතකොට බලන්න ඒ පුදුම සහගත දේවල්. සත්‍යයක තියෙන බලය අදටත් ඒ වගේ. ඊටපස්සෙ මේ බලන්න පින්වතුනි මතකද වට්ටක ජාතකය. වට්ටක ජාතකය ගත්තොත් ඒ වට්ටක ජාතකයේදී ඒ වටු කුරුල්ලා එක්තරා වන ලැහැබක කූඩුවක සිටිනවා. ඒ කූඩුවක සිටිනකොට ඒ නියං කාලෙට ඒ වනයට හැමදාම ගිනි ඇවිලෙනවා. දැන් මේ වටු කුරුල්ලා මව්පියන් එක්ක වාසය කරනවා. ඔන්න ආපහු ගින්දර ඇවිලුනා. ඊටපස්සෙ ගින්දර ඇවිලෙනකොට අම්මයි තාත්තයි දැන් දරුවා ගෙනියන්න හදනවා, ගෙනියන්න බෑ. ඔක්කෝම සත්තු සිව්පාවො එහෙ මෙහෙ දුවලා ගියා, කුරුල්ලො ඉගිලිලා ගියා. අර පුංචි වටු කුරුල්ලා ඉතුරුවුනා. එතකොට පුංචි වටු කුරුල්ලා ඉතිරිවෙලා පුංචි වටු කුරුල්ලා දැන් කකුල් දෙකෙන් ඇවිද ගන්න හදනවා, ඇවිදගන්න බෑ. පියාපත් ඔසවන්න හදනවා ඉගිලෙන්න, පියාඹන්න බෑ. අරහෙන් මහා ගින්න ඇවිලීගෙන එනවා. ඒ වෙලාවෙ කල්පනා කලා මං මොකක්ද දැන් මේ වෙලාවෙ කරන්නෙ. මේ වෙලාවෙ සත්‍යය හැර මට පිහිටක් නෑ. ඒ නිසා ඒ වෙලාවෙම සත්‍යක්‍රියාවක් කලා. මොකක්ද සත්‍යයක්‍රියාව, සන්ති පත්තා අපතනා, මට පාද තියෙනවා, පියාපත් තියෙනවා පියාඹන්න බෑ. සන්තිපාදා අවංචනා, පා දෙක තියෙනවා ඇවිදගන්න බෑ, මාතාපිතාච නික්කන්තා, මාව රකින්න හිටපු දෙන්නත්, අම්මයි තාත්තයි මාව දාලා ගියා. ඒතේනෙ සච්චවජ්ජේන, මේක සත්‍යයක්, ජාතවේද පටික්කම, මේ ගින්දර නවතීවා කියලා. කිරිය දොළහක ගින්දර නැවතුනා, අදටත් ඒ භූමිය දඹදිව තියෙනවා, ගින්දර පත්තු කරන්න බෑ ඒ භූමියේ. වටු කුරුල්ලෙක් වෙලා ඉඳලා කරපු සත්‍යක්‍රියාව. ඔය වගේ මහා බෝධිසත්ත්වයෝ අනන්ත සංසාරයේ තමා තුළ තියෙන සත්‍යයම ඉස්මතු කලා. සත්‍යය දැක්කා. ඔබතුළත් ඕනතරම් සත්‍යය ඇති, නමුත් ඔබට සත්‍යය දකින්න බෑ. ඔබ සත්‍යය මොකක්ද කියලා දන්නෙත් නෑ, දැන් වටු කුරුල්ලෙක් වෙලා සත්‍යය දකිනවා. දැක දැක පුරුදු කරනවා. මේක පාරමිතාවක්. ඊටපස්සෙ තවත් ජීවිතයක තියෙනවා, දැන් ඔබ දන්නවානෙ අපි ගත්තොත් එහෙම නලපාන ජාතකය. නලපාන ජාතකය ගත්තොත් එහෙම නලපාන ජාතකයේ ඒ නලපාන වඳුරු රැලක්. අසූදාහක්

වඳුරෝ ඉන්නවා. වඳුරු රැලේ ප්‍රධානියා වඳුරන්ට කිව්වා අපි මේ කැලෙන් කැලේට යද්දි අපි දන්නැති පළාත් වලට යනවා. ඒ නිසා විස ගෙඩි වර්ග තියෙනවා, අමනුෂ්‍යයො අධිගෘහිත විල් තියෙනවා. සතා සිව්පාවා කනවා, ඒ නිසා උඹලා යම් තැනකට ගියාට පස්සෙ එකපාරම තියෙන දේවල් කන්න එපා. වතුරක් වුනත් එකපාරම බොන්න එපා විලකින්. මගෙන් අහපල්ලා. ඊටපස්සෙ හා කියලා, ඒ අසූදාහම පින්වත්නි හා කියලා, ඇත්තටම ගෙඩි, කොච්චර බඩගින්නෙ ගියත් ගහක ගෙඩි දැකලා කන්නෑ නායකයාගෙන් අහන්නැතිව. ඊටපස්සෙ වතුරක් බොන්නෑ අහන්නැතිව. ඔන්න අමනුෂ්‍යයෙක් අරක් ගත්තු විලකට ආවා. වතුර පිපාසයි. ඉතින් අර වඳුරෝ ටික ඔක්කොම වතුර දිහා බලනවා, ඈත බලනවා. වතුර දිහා බලන්නෙ පිපාසයි. ඈත බලන්නෙ නායකයා එනවාද කියලා. නායකයා ආවා. ඊටපස්සෙ මොකද උඹලා, අනේ වතුර පිපාසයි. වතුර බිව්වෙ නැතිද. නෑ ඔබතුමා එනකල් හිටියා. බොහොම අගෙයි කිව්වා. ඊටපස්සෙ විල වටේට ගියා. විලට ගිය අඩි තියෙනවා, උඩට ආපු අඩි නෑ. ඉටපස්සෙ හිතුවා අනිවාර්යයෙන් අමනුෂ්‍යයෙක් ඉන්නවා සත්තු කන. කිව්වා වඳුරු රැළට කිව්වා උඹලා බොහොම අගෙයි මං එනකල් හිටපු එක. මේකෙ අමනුෂ්‍යයෙක් ඉන්නවා, මේකෙන් වතුර බොන එක ලේසි නෑ කියලා. එතකොටම දැන් අර දැන් එයි දැන් එයි කියලා දියරකුසා බලාගෙන හිටියානෙ. වතුරෙන් මතුවෙලා කිව්වා ඇවිල්ලා වතුර බීපියව් කියලා. ඊටපස්සෙ වඳුරු නායකයා කිව්වා උඹ මේ විලට එන ඔක්කොම ඩැහැගන්නවා නේද. ඊටපස්සෙ කිව්වා ඩැහැගන්නවා තමයි, දැන් උඹලත් පිපාසයි. ළඟපාතක කොහෙවත් ආයෙ විලක් නෑ, උඹලට මේකෙන් වතුර බොන්න වෙනවා. උඹලත් ඔක්කොම මගේ ගොදුරු කිව්වා. නායක වඳුරා කිව්වා, නෑ උඹට ගොදුරු වෙන්න තරම් අපි මෝඩ නෑ කිව්වා. කියලා එක වඳුරෙකුට කිව්වා අරන් වරෙන් උණ දණ්ඩක්. ඒක වටේට උණ ගස් තියෙනව. බට දඬු. ඒ බටගහක් ඔන්න කඩලා කඩලා අරගෙන ආවා. අරගෙන ඇවිල්ලා ඒක අතට අරන් නායක වඳුරා සිහි කලා මම ගුණ ධර්ම පුරුදු කරන කෙනෙක් බව සත්‍යයි නම් ඒ සත්‍යානුභාවයෙන් මේකෙ සිදුරු නැතිවේවා කියලා පිම්බා. උණබටේට පිඹිනකොට මෙහෙම ඒ හුළඟ එහා පැත්තෙන් ගියා, ඇතුලෙ සිදුරු ටික නැතිවුනා. ළඟ හිටපු එක්කෙනාට කිව්වා දැන් මේ වතුර බීපල්ලා කියලා. දැන් අර උණ බටය දාලා වතුර බොනවා. තව එක්කෙනෙකුට කිව්වා තව එකක් අරං වරෙං කියලා. හිත හිතා දෙනවා. කල්පනා කලා මේකෙ ඉවරයක් නෑ, ඒ නිසා අධිෂ්ඨාන කලා, මම ගුණධර්ම පුරුදු කරන කෙනෙක් බව සැබෑව, දුකෙන් නිදහස් වෙන්න කැමැති කෙනෙක්

බව සැබෑව, සත්‍යය පුරුදු කරන කෙනෙක් බව සැබෑව, ඒ සත්‍යානුභාවයෙන් මේ වටේ තියෙන හැම උණ ගහකම හැම බට ගහකම සිදුරු නැතිවේවා කියලා. සිදුරු නැතිවුනා. අදටත් සිදුරු නෑ. මේ කල්පය පවතින තුරු අපේ බුදුරජාණන් වහන්සේ පාරමී පිරූ බවට කාරණා හතරක් පෙන්නුම් කරනවා. එකක් තමයි පින්වතුනි හඳේ හාවා. මේ කල්පය තියෙන තුරු, අනෙක් කල්ප වල පායන හඳේ හාවෙක් නෑ. මේ කල්පයේ අපේ බුදුරජාණන් වහන්සේ ගින්දරට පැනපු ඒ සස ජාතකයේ ඒ සත්‍යානුභාවයෙන් හඳේ සාවා ඉන්නවා. ඔය තමයි බුදුරජාණන් වහන්සේ පෙරුම් පිරූ බවට එක සාක්ෂියක්. අනිත් එක තමයි ඉන්දියාවේ නලකපාන ගමේ තියෙන ඔය විල අයිනේ තියෙන උණබට. අදටත් සිදුරු නෑ, ඒ බටකදඩු අදටත් හැදෙනවා, සිදුරු හැදෙන්නෑ ඇතුලෙ. එතකොට ඔය දෙවෙනි සාක්ෂිය. තුන්වෙනි සාක්ෂිය තමයි අර වට්ඨක ජාතකයේ ගිනි ඇවිලෙන්නැති ප්‍රදේශය අදටත් තියෙනවා දඹදිව, ගින්දර ඇවිලෙන්නෑ කිරියදොළහක. අපි කියමුකෝ අක්කර දොළහක වගේ ඉඩමක ගින්දර ඇවිලෙන්නෑ, ඊළඟ එක තමයි ඝටීකාර කුඹල්කරුවාගේ නිවසේ වහළය කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ කුටිය සෙවිළි කරන්න අරන් ගියානෙ. එතකොට ඒ ඝටීකාර කුඹල්කරුවාගේ නිවසේ වහළය නෑ. වස්කාලෙ මොර සූරන වැස්ස වැස්සා. නමුත් ඒ ගේ තියෙන තැනට වතුර වැටෙන්නෑ, අදටත් බාරාණසියේ ඔහුගේ නිවස තියෙන තැනට වතුර වැටෙන්නෑ, කල්පයක් පවතින තුරු ඔන්න ඔය හතරේ සත්‍යය පවතිනවා, ඒ ප්‍රාතිහාර්ය හතර කල්පය පුරාම තියෙනවා. මේ ඔක්කොම සිද්ධ වුනේ සත්‍යයත් එක්කනෙ. ඊටපස්සෙ පින්වතුනි ඒ සත්‍යය කියන එක, දැන් කවුරුහරි මගෙන් ඇහුවා අර කිඹුලෙක් වංචා කරපු කතාව. ඒ කියන්නෙ එක කිඹුලියෙකුට හිතෙනවා, ඒ ජාතක කතාවේ නම කපි ජාතකය. ඒ කිඹුලිට හිතෙනවා ගඟ මැද ගලක් තියෙනවා. ඒ බෝසත් වඳුරා එහාපැත්තෙන් ඇවිල්ලා ගලට පැනලා තමයි එහා පැත්තෙ දූපතට පනින්නෙ. එතකොට ඒ වතුරෙ කිඹුලෙක් ඉන්නවා. ඒ කිඹුලිට හිතුනා ඔය පනින වඳුරාගෙ හදවත කන්න ඕන කියලා. චිංචිමානවිකාව ඒ. ඒ අසත්පුරුෂයාට අසත්පුරුෂ සිතිවිලි හිතෙනවා. කිඹුලා කිව්වා හරි, මං ගෙනත් දෙන්නම් කියලා. ඒ දේවදත්ත. අසත්පුරුෂයාට, අසත්පුරුෂයෝ කියන ඒවට එහේම්මම සෙට් වෙලා යනවා, සසරේ ස්වභාවය. ඊටපස්සෙ දැන් කිඹුලා ඔන්න ගල උඩට ඇවිල්ලා ඉන්නවා. දැන් වඳුරා කාලා බීලා ඇවිල්ලා එගොඩටට පනින්න හදනකොට දැන් ගල ඉස්සිලා. බැලුවා දැන් වතුර හිඳිලද, ගල ඉස්සිලාද කියලා බලනකොට කටු කටු වාගේ තියෙනවා, කිඹුලෙක්. ඊටපස්සෙ වඳුරා මොකද

කළේ, එම්බා ගල ඔබ සුවෙන් ඉන්නවා නේ කියලා ඇහුවා. දෙපාරක් විතර ඇහුවා, දැන් කිඹුලා නිහඬව ඉන්නවා. ඊටපස්සෙ වඳුරා කියනවා එම්බා ගල ඔබ සුවෙන් ඉන්නවා නේද, ඔබ වෙනදා මාත් එක්ක කතා කරනවානේ, අද ඇයි කතා කරන්නැත්තේ, දැන් කිඹුලා හිතුවා වෙනදා ගල කතා කරනවා ඇති කියලා. එතකොට කිඹුලා කිව්වා, ආ ඔව් මං සුවෙන් ඉන්නවා ඔයා එන්න කියලා. එතකොට වඳුරා දැනගත්තා අනිවාර්යයෙන්ම මේ කිඹුලෙක්. කිව්වා මේ වෙනදා ගල කතා කරන්නෑනේ, අද කොහොමද ගල කතා කරන්නේ, එතකොට කිඹුලා කිව්වා මට තොගේ හෘදමාංශය ඕන. ඊටපස්සෙ කිව්වා එහෙනම් හරි උඹ කට ඇරගෙන හිටපං, මං උඹ ළඟට එන්නම්, ඊටපස්සෙ උඹ කාපං කිව්වා. ඊටපස්සෙ කිඹුලා කට ඇරියා. කිඹුලට අමතකයි, කිඹුලා කට අරිනකොට කිඹුලාගේ ඇස් දෙක වැහෙනවා. මේවට කියන්නෙ බොරු නෙවෙයි පින්වතුනි, මේවට කියන්නෙ සමයප්‍රයෝග. ඊටපස්සෙ කිඹුලා කට ඇරියා, වඳුරා වේගෙන් ඇවිල්ලා කිඹුලා ළඟට පැනලා, ඊටපස්සෙ එගොඩ දූපතට පැන්නා. එගොඩ ඉඳලා කිව්වා, මම බොරු කිව්වෙ නෑ, මම කිව්වනෙ මම උඹ ළඟට එනවා කියලා, මම උඹ ළඟට ඇවිල්ලා තමයි මේ පැත්තට ආවෙ. ඒ නිසා මං අදත් අසත්‍යයක් කිව්වෙ නෑ කිව්වා. පුදුම සහගතයි. ඊටපස්සෙ කිඹුලා කියනවා සත්‍යයයි, දමනයයි, ත්‍යාගයයි, නුවණයි තිබුනට පස්සෙ මේ ලෝක සත්ත්වයාට සුවසේ ඉන්න පුලුවන් කියලා ඒ කිඹුලා පැරදිලා වතුරටම ගියා. එදත් සත්‍යයම ජයගත්තා. ඊළඟට පින්වතුනි මහාසුතසෝම ජාතකය ගත්තොත් ඒ පෝරිසාදයාට අහුවුනානෙ සුතසෝම රජ්ජුරුවො. සුතසෝම රජ්ජුරුවො සුතසෝම ජාතකයේ අපි මීට කලින් දේශනාවක අංගුලිමාල මහරහතන් වහන්සේට උපහාර පිණිස වන්දනා පිණිස ආණමඩුව අසපුවේදී කරපු දේශනාවක් අපි කලා, ඉතින් බොහෝ දෙනා ඒ දේශනාව ඇහුවා කියලා අපි දන්නවා. ඒ දේශනාවෙ තියෙනවානෙ මහාසුතසෝම රජ්ජුරුවන්ගේ කතාව. ඒ සුතසෝම රජ්ජුරුවෝ, ඒ පෝරිසාදයා වෙලා ඉපදුනේ අංගුලිමාල, මිනීමස් කනවා. රජකෙනෙක්, බ්‍රහ්මදත්ත රජ්ජුරුවෝ මිනීමස් වලට ලොල් වෙලා, දවසක් කකුලෙ උලක් ඇනිලා නුගගහකට බාර වුනා මගේ කකුල සුව කරලා දෙන්න, මේ දඹදිව් තලයේම ඉන්න රජකුමාරවරු ගෙන්නලා බඩවැල්වලින් නුග ගහ වෙලනවා කියලා. දවස් හතක් නොකා හිටපු නිසාම කකුළ වේලුනා. හිතුවෙ දෙවියො කලා කියලා. ඊටපස්සෙ පෝරිසාදයා මුළු දඹදිවම සැරිසරලා රාජකුමාරවරු සීයක් ගෙනල්ලා එල්ලුවා. ඊටපස්සෙ නුගේ දෙවියා හොඳටම බය වුනා. ඊටපස්සෙ සක්දෙවිඳුට කිව්වා මේක මහා

විනාශයක් වෙන්නෙ. සක්දෙවිඳු කිව්වා ඔය ඕකා දමනය කරන්න අපිට නම් බෑ, හැබැයි සුතසෝම රජ්ජුරුවන්ට දමනය වෙයි, උඹ පෙනී ඉඳලා කියාපං සුතසෝම රජ්ජුරුවන්ගේ බඩවැල්වලින් වෙලුවොත් ඒ ඇති කියලා. ඊටපස්සෙ ඒ දෙවියා පෙනී ඉඳලා ඒක කිව්වා. ඊටපස්සෙ පෝරිසාදයා සුතසෝම රජ්ජුරුවෝ නාන්න එන පොකුණේ සැඟවිලා හිටියා. කලින් බුදුවරුන්ට ගිනි කබලක් පූජා කරපු පින් බලේට වතුර ඇතුලෙ හිටියට ඇඟ සීතල වෙන්නෑ, ඊටපස්සෙ සුතසෝම රජ්ජුරුවෝ නාන්න යනකොට එක බ්‍රාහ්මණයෙක් සතාරහා කියලා, එක ගාථාවකට කහවණු සීයක් දෙන්න සුදුසු ගාථා හතරක් අරගෙන එනවා. රජතුමනි මං ගාථාවක් කියන්න ආවෙ. අනේ මං පැන් පහසු වෙලා එන්නම්, ඊටපස්සෙ සුවසේ ගාථා අහන්න පුලුවන්, මං එනකල් ඉන්න කියලා ඒ බ්‍රාහ්මණයාට තමයි පොකුණට ගියෙ. පොකුණට ගියාට පස්සෙ පෝරිසාදයා අල්ලගත්තා. කැලේට දිව්වා. කිසි සේවකයෙකුට රාජ පුරුෂයෙකුට ඔහුව ලුහුබඳින්න බෑ, මහා තේජස් ඇති කෙනෙක්නෙ. ඊටපස්සෙ මොකද වුනේ පින්වත්නි, ඒ පෝරිසාදයා ඒ සුතසෝම රජ්ජුරුවො අල්ලගෙන ගිහිල්ලා කැලේ තියලා කිව්වා, එක්සීයක් රජවරු ගහේ එල්ලලා තියෙනවා, දැන් නුඹව මං මරනවා. ඊටපස්සෙ කිව්වා, අනේ මට එක් අවස්ථාවක් දෙන්න, ගිහිල්ලා එන්න, මං මේ බ්‍රාහ්මණයෙකුට වචනයක් දුන්නා. පොරොන්දුවක් උනොත් ඒක ඉෂ්ට කරන්න ඕන. මං ඒ ගාථා හතර ඉගෙන ගෙන එන්නම්. මං සත්‍යයේ පිහිටලා ඉන්න කෙනෙක් කිව්වා. නොයෙක් කරුණු කිව්වා. කරුණු කියලා කියලා කිව්වා රජතුමා කිව්වා නෑ උඹ පෝරිසාදයා කිව්වා ගිහිල්ලා මරණයට කැපවෙච්චි කෙනෙක් ගිහිල්ලා කවද්ද එන්නෙ කියලා ඇහුවා. නෑ ඔබ මාව අවිශ්වාස කරන්න එපා, මං සත්‍යය කතා කරන කෙනෙක් කිව්වා. කරුණු කියලා එහෙනම් ගිහිල්ලා එන්නම් කියලා ගියා. නමුත් පෝරිසාදයා යවනකොටම හිතුවා මේ මනුස්සයා ගිහිල්ලා එන එකක් නෑ, මේ සුතසෝම රජ්ජුරුවෝ. නමුත් මමත් රජ කෙනෙක්නේ. ඒ පෝරිසාදයා බ්‍රහ්මදත්ත රජ්ජුරුවොනෙ. ඒ නිසා මේ බිල්ලි පූජාවට ලේ මදිවුනොත් එහෙම මගේ උරය පලලා මගේ ලේ වලින් මේ ගහ නාවනවා. එතකොට පෝරිසාදයා සත්‍යය ක්‍රියාත්මක කරන විදිය කොහොමද. සුතසෝම රජ්ජුරුවො ගිහිල්ලා ගාථා අහලා, රාජ්‍යය භාරදීලා කිසිම සේවකයෙක් නැතිව, පුතාට රජකම පවරලා කිසි කෙනෙකුට එන්න තහනම් කරලා තමන් තනියෙන් ආවා. තමන් තනියනේ එනකොටම පෝරිසාදයාට බය හිතුනා. කොහොමද මෙහෙම එන්නෙ. බය නැතිව එන්නෙ ඒ සතාරහා ගාථා, ඒ ඉගෙනගත්තු ගාථා වල ආනුභාවයට.

මොක්කහරි මන්ත්‍රබලයක් වෙන්න ඇති කියලා. මොකද පෝරිසාදයාටත් පාදලක්ෂණ විද්‍යාව කියලා යක්ෂයෙක්ගෙන් මන්ත්‍රයක් හම්බුවනා, දුවන අශ්වයාට වැඩිය වේගයෙන් දුවන්න පුලුවන්. ඊටපස්සෙ මොකද වුනේ, නමුත් ළඟට එන්න එන්න බය හිතුනා, කතා කලා. කතා කරලා කිව්වා, උඹව මරන්න කලින් මට ඔය ගාථා හතර කියලා දීපන්. අනේ උඹ වගේ මිනී මරලා මස් කන කෙනෙකුට මොන ගාථාද. ඊටපස්සෙ කල්පනා කලා, නෑ නෑ මමත් ඕවා අහන්න ආසයි. ඊටපස්සෙ පෝරිසාදයාට ඒ ගාථා හතර කිව්වා. ගාථා හතර කිව්වට පස්සෙ කිව්වා, මේ ගාථා හතර සතාරහා නෙවෙයි, මේක දහස් ගණන් වටින ගාථා. ඒකෙ තියෙන්නෙ සග්ගිරේව සමාසේත සබ්බිකුබ්බේත සන්තවං සතං සද්ධම්ම මඤ්ඤාය සෙය්‍යා හෝති නපාපියො. සත්පුරුෂයෝ සමඟමයි ඉන්න ඕන. සත්පුරුෂයෝ සමඟමයි ඇසුරු කරන්න ඕන. සත්පුරුෂයොත් එක්ක යාලුවෙච්ච කෙනාට හොඳක් මිසක් නරකක් නම් වෙන්නෙ නෑ. රජතුමාගේ රාජ්‍යයේ රථය පවා දිරලා යනවා. ඒ නිසා මේ ජීවිතේ ඒකාන්තයෙන්ම අනිත්‍යයයි, මේවා වෙනස් වෙලා යනවා. මේ ගාථා කියනකොට අරයාගේ හිත මොලොක් වුනා. මොලොක් වුනාට පස්සෙ කිව්වා මට දෙන්න දෙයක් නෑ මේ ගාථා වෙනුවෙන්, මං ඔයාට වරයන් හතරක් දෙනවා, එක ගාථාවකට එක වරය ගානෙ. ඊටපස්සෙ කිව්වා අනේ උඹ මිනීමස් කන පෝරිසාදයෙක්, උඹ මොනවද දෙන වර, උඹගේ කොහෙද සත්‍ය,? නෑ නෑ මං තුළත් සත්‍යය තියෙනවා කිව්වා. මං කිව්වොත් කියනවා, ඒක තමයි මගේ සත්‍යය කිව්වා. හරි එහෙනම් පළවෙනි ගාථාවට උඹ දෙන වරයට මං ඉල්ලන්නේ උඹ බොහෝ කාලයක් ජීවත් වේවා ඒක මගේ වරය. එතකොටම එයාගේ හිත ගොඩාක් මෙලෙක් වුනා. දැන් එයා හිතුවෙ සුතසෝම රජ්ජුරුවෝ කියයි කියලා මාව මරන්න එපා කියයි කියලා හිතලයි කිව්වෙ. මොකද පෝරිසාදයා විකල්පයක් තියාගත්තා. ඒ තමයි මේ බිලිපූජාවට ලේ මදිවුනොත් රජ කෙනෙක්ගේ තමන්ගෙ උරපත්ත කපලා ලේ දෙන්න විකල්පයක් තියාගෙන තමයි හිටියෙ. ඊටපස්සෙ දැන් කියපු කතාව පුදුමයි, පුදුම සහගත හිතුනා. ඊටපස්සෙ කිව්වා, දෙවෙනි වරය. හා හොඳයි එහෙනම් දෙවෙනි වරය ගන්න. ඊටපස්සෙ කිව්වා මේ ඉන්න එක්සීයක් රජවරු නිදහස් කරලා රාජධානි වලට යවමු. හරීයට සතුටු හිතුනා. හිතුවෙවත් නෑ මෙහෙම එකක්. ඒ අයත් නිදහස් කලා. ඔය විදියට වර තුනක් අරගෙන හතරවෙනි වරය, දැන් බලන්න සුතසෝම රජ්ජුරුවන්ගේ ප්‍රඥාව, හතරවෙනි වරය ඉල්ලුවා, මිනීමස් කන්න එපා ඔබ. ඊටපස්සෙ කිව්වා නෑ නෑ වෙන එකක් ඉල්ලන්න, වෙන එකක් ඉල්ලන්න. මොකද

දැන් මම රාජ්‍යයක රජකමත් අතෑරලා මේ කැලේට ආවෙ මිනීමස් කන්න ඕන නිසා. වෙන එකක්. ඊටපස්සෙ කිව්වා, දැන් අර ඉස්සෙල්ලා කිව්වෙ සත්‍යය, පොරොන්දුවක් වුනොත් ඒක ඉෂ්ට කරන බව කියලා සත්‍යයම ඉස්මතු කලා. පොරොන්දු කඩ නොකරන බව, කියපු දේ කරන බව ඒවා ඔක්කොම ඉස්මතු කලා. ඉස්මතු කරන්න කරන්න පෝරිසාදයා කිව්වා, හා එහෙනම් මං නොකා ඉන්නම්. ඔන්න එහෙමයි පෝරිසාදයා දමනය කලේ. ඊටපස්සෙ ඒ රජවරු දෙන්නම එකතුවෙලා සුතසෝම රජ්ජුරුවොයි, පෝරිසාදයයි වැල් කැපුවා, රජ්ජුරුවෝ රාජ කුමාරයො මෙහෙම අල්ලගෙන ඉන්නවා, අරයා එල්ලා තියෙන වැල කපනවා. ඒ විදියට ඔක්කෝම කපලා මෙහෙම බිම තිබ්බා. නමුත් සුතසෝම රජ්ජුරුවන්ට හිතුනා, ඔක්කෝම දැන් හෙම්බත් වෙලා, දවස් හතක් කෑම නෑනෙ රජවරු සීයටම. කවුරුහරි මෙතන පණ ඇවිල්ලා පෝරිසාදයාට කරදරයක් කරයි කියලා අර සීයක් රජවරු ටික එකතු කරලා අර පෝරිසාදයාට කිව්වා මෙන්න මේ පොත්ත ගල ගාපං කියලා. එතකොට ගලක් අරගෙන ගහක පොත්තක් ගල ගෑවා මෙහෙම, එතකොට කල්කයක් හැදෙනවානෙ. කල්කය අරන් මේ රජවරු ඉස්සරහ සත්‍යක්‍රියා කරන්න කිව්වා මං ප්‍රාණඝාතයෙන් වැළකුණු බව සත්‍යයි, අදින් පස්සෙ මිනීමස් කන්නැති බව සත්‍යයක් නම් මේ රජවරු සුවපත් වෙන්න ඕන කියලා සත්‍යක්‍රියා කරන්න කිව්වා. පෝරිසාදය සත්‍යක්‍රියා කලා. සත්‍යක්‍රියා කරලා කිව්වා, ඔබම දැන් ගාන්න කිව්වා ඇඟේ. ඊටපස්සෙ ඒ කල්කය අරන් අර කුමාරවරුන්ගේ ඇඟේ ගානකොට ඒ ඇඟ සොළොස් කළයකින් පැන් පහසු වුන රාජකුමාරයක්ගේ වගේ නිරෝගී සුවපත් වුනා. දැක්කද, එදත් සුතසෝම රජ්ජුරුවෝ එයාව ප්‍රාණඝාතයෙන් වළක්වලා සත්‍යක්‍රියා කෙරෙව්වා. මේ ජීවිතෙත් බුදුරජාණන් වහන්සේ අංගුලිමාල බේරගෙන සත්‍යක්‍රියා කෙරෙව්වා. කොහොමද සසර. සුතසෝම රජ්ජුරුවන්ගේ ඇත්ත වචන කතා කිරීම කොහොමද, ඊළඟට පෝරිසාදයාගේ සත්‍යය කොහොමද. අවංකවම වැරැද්දකින් මිදීම. සත්‍යක්‍රියාව. ඉතින් ඒ නිසා මේ විදියට සත්‍යය පුරුදු කලා. පින්වතුනි මේ විදියට එක ජීවිතයක් නෙවෙයි, ජීවිත දෙකක් නෙවෙයි, ජීවිත සීයක් නෙවෙයි, ජීවිත ලක්ෂයක් නෙවෙයි, ජීවිත අසංඛෙය්‍යක් නෙවෙයි, අසංඛෙය්‍ය ගාණක්, අප්‍රමේය ගාණක් ප්‍රමාණ කරන්න බැරි ගාණක් සත්‍යය පුරුදු කලා. මහා බෝධි සත්ත්වයෝ සසරේ කඩපු නැති එකම, කැඩිලා නැති එකම - දැන් පන්සිල් ගත්තොත් ප්‍රාණඝාතය කීපවිටක් සිද්ධ වෙලා තියෙනවා. සොරකම සිද්ධ වෙලා තියෙනවා. වැරදි කාමසේවනය සිද්ධ වෙලා තියෙනවා. සුරාවත් අරගෙන

තියනවා. නමුත් කවදාවත් බොරුවක් කියලා නෑ. අසංඛෙය්‍ය හතරක් බොරුවක් කියලා නෑ, සත්‍යය. එච්චර සත්‍යය පුරුදු කරලා කලා. ඇත්ත කතා කරන්නෙ. කවදාවත් පොරොන්දුවක් කඩලා නෑ. කියන දේ කරනවාමයි. එතකොට ඒ විදියට පුරුදු කරලා පුරුදු කරලා ඇවිල්ලා කොච්චර ජීවිත ගාණක්ද, මේ විදියට ජීවිත ගාණක් පුරුදු කරලා කරලා ඇවිල්ලා තමයි ලොව්තුරා සම්බුදු බවට පත්වෙන්නෙ. ලොව්තුරා සම්බුදු බවට පත්වුනාට පස්සෙ තමන් අවබෝධ කරපු ඥාණය ධර්මය දේශනා කරන්න තියෙන්නෙ වචනයෙන්මයි. ඒකයි මේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේලා සංසාරයේ වචනයෙන් පව් කරන්නැත්තෙ. මොකද මේ ධර්මය වචනයෙන්මයි දෙන්නෙ. ඒකනේ ලෝකෙ ඉස්සෙල්ලාම මේ ධර්මය කියනකොට කවුරුත් පිළිගත්තෙ නැනෙ. එක ඇඟිල්ලක් උස්සලා ලොව්තුරා සම්මා සම්බුදු බවට පත්වෙනවා කියලා කියපු කොණ්ඩඤ්ඤයන්වත් පිළිගත්තෙ නැනෙ එකපාරම සම්බුදු වුනා කියනකොට. ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේ ඇහුවා, කොණ්ඩඤ්ඤ පින්වත් මහණෙනි, මං මීට කලින් බොරුවක් කියලා තියෙනවාද කියලා ඇහුවා. මං සම්මා සම්බුදු වෙලා කියලා මීට කලින් කියලා තියෙනවාද කියලා ඇහුවා. අනේ නෑ ස්වාමීනී කියලා දණ ගැහුවේ ඊටපස්සේ. සත්‍ය වචනය. පන්සාලිස් වසක් පුරාවට සත්‍ය වචනය. පන්සාලිස් වසක් පුරාවට සත්‍ය වචනය. ඊටපස්සෙ ඒ නිසයි සෑම පිරිතකින්ම අපි සෙත් ප්‍රාර්ථනා කරද්දි ඒතේන සච්චේන සුවත්ථි හෝතු, මේ සත්‍ය වචනයෙන් සෙත් සැලසේවා. ඒතේන සච්චේන සුවත්ථි හෝතු, මේ සත්‍ය වචනයෙන් සෙත් සැලසේවා. බුදුරජාණන් වහන්සේගේ ධර්මය තියෙන්නේම සත්‍ය වචනය තුළ. සසරේ අප්‍රමාණ පාරමිතාවක් පිරුවා, සත්‍ය වචන. ඉතින් ඒ නිසා ඒ බුදුරජාණන් වහන්සේගේ සත්‍ය වචනයෙන් සෙත් ප්‍රාර්ථනා කරපු රතන සූත්‍රයේ කොයිතරම් නම් ආනුභාවයක් ඇත්ද. මේ ලෝකයේ හෝ පරලෝකයේ යම්කිසි වස්තුවක් තියෙනවා නම්, ඊළඟට දෙව්ලොව හෝ යම් මැණිකක් තියෙනවා නම්, ඒ කිසිම දෙයක් බුදුරජාණන් වහන්සේට සමාන කරන්න බෑ. යං කිඤ්චි වින්තං ඉධ වා හුරං වා, සග්ගේසුවායං රතනං පණීතං නනෝසමං අත්ථි තථාගතේන ඉදම්පි බුද්ධේ රතනං පණීතං. මේක තමයි බුදුරජාණන් වහන්සේ කෙනෙක්ගේ ජීවිතේ තියෙන මාණික්‍යය. වටිනාකම. ඒතේන සච්චේන සුවත්ථි හෝතු, සෑබෑ බසින් මෙම සෙත සැලසේවා. කොච්චර ආශිර්වාදයක්ද. බුදු කෙනෙක් වෙලා ඒ දේශනා කරන සත්‍යය ගැන කවර කතාද, පෙරුම් පුරන සංසාරයේ කිළිටි වෙන්නැතිවම රැකපු කිසි කෙනෙකුට ළංවිය නොහැකි තරම් රැකපු සත්‍යයක්

උන්වහන්සේ තුළ තියෙනවානෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ ගුණ බලය සත්‍යයි කියලා සිහි කරනකොට කොච්චර ආනුභාවයක්ද. එදා නලපාන ජාතකයේදී අර සිදුරු තියෙන උණබට අරගෙන මා ගුණධර්ම පුරුදු කරන බව සත්‍යයයි, මේ උණ බටයේ සිදුරු නැතිවේවා කියලා මෙහෙන් පිඹිනකොට ඒ සුළඟ එහාපැත්තෙන් ගියා. සිදුරු නැතිවුනා. අදටත් ඒ සිදුරු නැති උණගස් තියෙනවා. එදා තිරිසන් සතෙක් වෙලා සත්‍යය සිහි කරලා ඒ වාගේ ප්‍රාතිහාර්යයක් කලා නම් තුන් ලෝකෙටම අග්‍ර ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ බවට පත්වෙලා රතන සූත්‍රයෙන් සත්‍යක්‍රියා කරනකොට ඒකෙ ආනුභාවය කොහොමද. අද මේ ලක්දෙරණ රැකී තියෙන්නෙ කුමක් නිසාද. අද මේ මිනිස්සු සැනසිල්ලෙ හුස්මක් ගන්නෙ කුමක් නිසාද. රතන සූත්‍රයේ ආනුභාවය. ඒ නිසා ඇයි ඒ? සත්‍ය වචනයමයි තියෙන්නෙ. අංගුලිමාලයන්ගේ පිරිතේ තියෙන ආනුභාවය කුමක්ද? සත්‍ය වචනය. ඉතින් ඒ නිසා මේ සත්‍යය කියන එක සුලුපටු දෙයක් නෙවෙයි. ඔබත් සත්‍යයක් පුරුදු කරන්න. ඇත්තටම බලන්න සත්‍යය පුරුදු කරන්න. පොරොන්දුවක් වුනොත් ඒක ඉෂ්ට කරන එක, ඊළඟට ඉෂ්ට කරන්න බැරි පොරොන්දු පොරොන්දු නොවන එක, ඊළඟ එක ඇත්ත කතා කරන එක, ඊළඟට තමන්ගෙ, දැන් මේ පාරමිතාව පුරන්නෙ සත්‍ය පාරමී, උප පාරමී, පරමත්ථ පාරමීනේ. තමන්ගේ සකල වස්තුව නැතිවෙලා ගියත් ඇත්ත කතා කරනවා. ඊළඟට ඒක සත්‍ය පාරමී. ඊළඟට තමන්ගෙ අතපය කපලා දඬුවම් දුන්නත් ඇත්ත කතා කරනවා. ඒ සත්‍ය උප පාරමී. තමන්ගේ ජීවිතේ නැතිවුනත් සත්‍යය කතා කරනවා. ඒක සත්‍ය පරමත්ථ පාරමී. මේ විදියට කෙනෙකුට සිතාගත නොහැකි තරම්, අසාමාන්‍ය, අද්භූත වූ පාරමී ධර්මයක් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ පිරුවා. ඒ නිසා ඒක තමයි සත්‍ය පාරමී. ඔබ ඇත්ත කතා කරන්න කැමැති නම්, ඔබගේ හිතේ මේ දැන් කියනවා එකක්, ඊළඟ පාර වෙනස්වෙනවා, ඔය චංචල බව නැතිකරගන්න කැමැති නම්, ඇත්තට මුහුණ දෙන්න කැමැති නම්, ඇත්ත අවබෝධ කරන්න කැමැති නම්, සත්‍ය පාරමිතාවක් වගේ පිරූ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ යන්න. දිවිහිමියෙන් සරණ යන්න. මේ උත්තමයන් වහන්සේගේ සරණට ආවට පස්සෙ සත්‍යය පුරුදු කරන්න පුලුවන් ඔබට. ඒක තමයි මුසාවාදා වේරමණී සික්ඛාපදං සමාධියාමි කියලා සමාදන් වෙන්න කලින් බුද්ධං සරණං ගච්ඡාමී කියලා සරණ යන්නෙ ඒකයි. පින්වතුනි සිල් රකින්න, ඉස්සෙල්ලා සරණට එන්න. ඒ නිසා අපේ සීලය කැඩෙන්නෙ සරණ නැති නිසා. ඒ නිසා ඔබට මුලු ජීවිතේම සත්‍යයෙන් පුරුදු

කරගන්න, සුන්දර ජීවිතයක් ඇතිකරගන්න, ඒකාන්තයෙන් අසිරිමත් සම්බුදු සරණ සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ සිංගප්පූරුවේ පදිංචි චතුරංග රත්නායක මහත්මයා, කුරුණෑගල පදිංචි සමුද්‍රා රත්නායක මහත්මිය සහ දෙමව්පියන් ඇතුලු සියලු දෙනා, ඒ වගේම දරුවන් දෙදෙනාත් මේ පින්වතුන් එකතු වෙලා. පළමුවෙන්ම අපි සෙත් ප්‍රාර්ථනා කරමු මේ රැස් වුනු සියලුම පින් බලයෙන් ධර්ම දානයෙන්, ධර්ම දේශණයෙන්, ධර්ම ශ්‍රවණයෙන් ඒ වගේම අපේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සසර පුරාවටම කිසි කෙනෙක්ට ළංවිය නොහැකි තරම්, ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේ තරම් ඇත්ත කතා කරපු කෙනෙක් සංසාරයේ තවත් බෝධිසත්ත්වයෙක් මිසක්කා තවත් නම් නෑ. මේ තුන් ලෝක ධාතුවේම බොරුවක් නොකියපු එකම එක්කෙනා බුදුරජාණන් වහන්සේ, බෝධිසත්ත්වයෝ. ඒ කිසිකෙනෙකුට එතෙන්ට ළංවෙන්න බෑ, ඒක තමයි පාරමී ධර්මයෝ කියන්නෙ. ඒ හැම එකක්ම පුරුදු කලේ දුකින් නිදහස් වෙන්න ඕන නිසා. ඉතින් ඒ පාරමී සත්‍යයේ පාරමිතාවේ අනුහසින් මේ කල පින් බලයේ අනුහසින් මේ ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක් වුනු කොරෝනා වසංගතය දුරින්ම දුරු වේවා, අපගේ මව්දෙරණටත් ලෝකයටත් සෙත් වේවා. මානව වර්ගයාට සෙත් වේවා, ව්‍යසන දුරුවෙලා සැමට සැනසිල්ල වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. පින් කැමති සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ දිව්‍ය යස ඉසුරු වඩා වර්ධනය වෙත්වා. පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වන දෙවියෝ මේ පින්වතුන් සියලු දෙනා ඒ වගේම මේ ලක්දෙරණ සියලු දෙනා ආරක්ෂාකරත්වා කියලා පින් පමුණුවනවා. ඒ වගේම මේ පින්වතුන් බලාපොරොත්තු වෙනවා උතුරු නැගෙනහිර සටනේදී, අපහට රට රැකගැනීමට දිවිදුන් සහ ඒ ආබාධිත වූ සියලු රණවිරුවන්ට සෙත් ප්‍රාර්ථනා කරන්න. ඉතින් ඒ නිසා ඒ සටනින් මියපරලොව ගිය සියලු රණවිරුවන්ට පින් පමුණුවමු. මේ පවුලේ පින්වතුන් නමින් මියපරලොව ගිය ඥාතීන්ට පින් පමුණුවමු. පරලොව ගිය ඥාතීන්, රණවිරුවන්, පරලොව සැපයට පත්වේවා කියලා, අපි සෙත් ප්‍රාර්ථනා කරනවා, පින් පමුණුවනවා. පරමපූජනීය, කල්‍යාණමිත්‍ර ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වෙලා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර මහා සංඝරත්නයට සිල් මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක

දූපුතුන්ට මේ පින් බලයෙන් උතුම් චතුරාර්ය සත්‍යය ධර්මයම අවබෝධ වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වාගේම සිංගප්පූරුවේ පදිංචි චතුරංග රත්නායක මහත්මයාටත්, කුරුණෑගල පදිංචි සමුද්‍රා රත්නායක මහත්මියටත්, දෙමව්පියන්ට, පවුලේ සියලුදෙනාට, දරුවන් දෙදෙනාට, මේ පින් ඒකාන්තයෙන් අනුමෝදන් වේවා. අනුමෝදන් වේවා. නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, භාග්‍යවතුන් වහන්සේ පිරූ සත්‍ය පාරමිතාවේ අනුහසින් ඔබගේ ජීවිතයට සත්‍යයම ළඟාවේවා, සත්‍යයම අවබෝධ වේවා, සත්‍යයම කතා කරන්න ඔබට වාසනාව ශක්තිය ධෛර්යය සැලසේවා. ඒ වගේම සසර දුකින් නිදහස් වෙන්නත්, චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්නටත් මේ පින් හේතු වාසනා වේවා. ඒ වාගේම කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරව සිටින ලක්වාසී ලෝකවාසී සියලු දෙනාට මේ පින් බලයෙන්, රතන සූත්‍රයේ ආනුභාවයෙන් ඒ තුණුරුවන්ගේ සත්‍යානුභාව බලයෙන්, සත්‍ය පාරමිතාවේ ආනුභාවයෙන් ඉක්මණින් නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා. මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත්, ගුරුභවතුන්ටත් මේ පින් අනුමෝදන් වේවා, ලක්විරු ගුවන් විදුලියේ, ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, දායකත්ව දරන පවත්වන සියලුදෙනාට ඒ වාගේම ඔබ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ පිරූ පාරමී බල වල අනුහසින් සත්‍ය පාරමිතාවේ අනුහසින් ඔබට සෙත් වේවා. උතුම් සම්බුදු සරණින් ඔබ සියලු දෙනාට සසර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=9w5m0o-MItg&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=13

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සඳහා අද දවසේ දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ පර්ත් නුවර පදිංචි පින්වත් උපුල් අබේසේකර මහත්මයා, දීපා අබේසේකර මහත්මිය ඒ වගේම සමාධී ගයාත්‍රී සහ චමුදී අබේසේකර යන මහත්ම මහත්මීන් විසින් අද දවසේ මේ ධර්ම දානය සිද්ධ කරන්නෙ. ඉතින් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකගේ උතුම් සරණට පැමිණීමට උපකාරක වන මේ උතුම් සම්බුදු ගුණ දහම් ඉගෙන ගන්න දහම් වැඩසටහනට දායකත්වය දරලා ලෝක සත්ත්වයාට මේ ධර්මය අහන්න සලස්වන මේ පින මේ ධර්ම දානය දෙන අයට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. ඉතින් ඒ සෙත් ප්‍රාර්ථනා කරන ගමන් අපි අද දවසේ බුදුරජාණන් වහන්සේගේ දස පාරමිතාවලින් අද දවසේ අපිට කතා කරන්න තිබෙන්නේ අධිෂ්ඨාන පාරමිතාව. එතකොට අධිෂ්ඨානය, මේ ගැන අපි ඉගෙන ගත යුතුම දෙයක්. අධිෂ්ඨානය තමයි බොහෝ දෙනෙකුට නැත්තෙ. ගොඩාක් අයට සීයයට අනූ නවයකට වඩා කියලා කිව්වොත් ඒත් නිවැරදියි. පුංචි කාලෙ තමන් යන්න හිතාගෙන ආව ගමන කොහෙද, දැන් ගිහිල්ලා ඉන්න ගමන කොහෙද. එතකොට අපි ජීවිතේ එක එක දේවල් වලට මෙහෙම කරනවා, මෙහෙම කරනවා කියලා අධිෂ්ඨාන කරගන්නවා ඒ අධිෂ්ඨානය පුස්සක් වෙලා යනවා. මේ හැරෙනවා, මේ වෙනකොට වෙනස් වෙනවා. ඉතින් බොහෝ දෙනෙකුට අධිෂ්ඨානය නෑ, එක රස්සාවක් හරියට කරන්න බෑ. රස්සාවෙන් රස්සාවට මාරු වෙවී යනවා. එක විෂය මාලාවක් හරියට කරන්න බෑ, මාරු කරනවා. ඊළඟට එක අධිෂ්ඨානයකින් සීලයක් රකින්න බෑ මේ වෙනස් වෙනවා. මාසයක් සිල් රකිනවා කියලා සතියෙන් ඉවරයි. ඊළඟට අපි මීට කලින් ඉගෙන ගත්තු ගුණධර්ම, කලින් අපි සත්‍ය පාරමිතාව ඉගෙන ගනිද්දින් සත්‍ය පුරුදු කරන්න, බුදුරජාණන් වහන්සේගේ සත්‍යය හිතෙන් අධිෂ්ඨාන කරගෙන ඒවගේම මමත් සසර දුකින් නිදහස් වෙන්න සත්‍ය කතා කරන කෙනෙක් වෙනවා කියන අධිෂ්ඨානයට ඇවිල්ලා කොච්චර දවසක් ඉන්න ඔබට අධිෂ්ඨාන ශක්තිය තියෙනවාද කියලා බලන්න. ඇත්තටම මේ අධිෂ්ඨාන ශක්තියෙන් තමයි වීර්යය පවතින්නෙත්, නුවණ, සිහිය ඔක්කෝම පවතින්නෙ මේ අධිෂ්ඨාන ශක්තියත්

එක්ක. ඒ අධිෂ්ඨාන ශක්තිය එක එක්කෙනාට සුලු මහත් වශයෙන් ලොකු කුඩා වශයෙන් තියෙන්න පුලුවන්. එතකොට මතක තියාගන්න අපිට නිවන් මාර්ගය දියුණු කරන්න, සතර සතිපට්ඨානය මනාව වඩන්න ආර්ය අෂ්ටාංගික මාර්ගය වඩන්න ඔහුව මෙහෙයවන මූලික බලවේග හතරක් තියෙනවා. ඒකට තමයි ඍද්ධිපාද කියන්නෙ. ඡන්ද, චිත්ත, විරිය, වීමංසා කියලා. එතකොට මේ නිවන් මාර්ගයේ ගමන් කරන්නට, මාර්ගය පුරුදු කරන්න තියෙන්න ඕන හොඳ කැමැත්තක්. හිත තුළ ලොකු කැමැත්තක් තියෙන්න ඕන. ඇත්තටම තියෙන උවමනාවක් තියෙන්න ඕන. ඒකට තමයි ඡන්දය කියන්නෙ. චිත්තය කියලා කියන්නෙ, චිත්ත ඍද්ධිපාද, ඒවා වචනයෙන් වචනය වෙනස් වෙනවා. ඡන්දවිරිය පදාන සංකාර සමන්නාගත ඍද්ධිපාදය කියලා කියන්නෙ, ඒවට වෙනම අර්ථ තියෙනවා. කෙටියෙන් ගත්තොත් චිත්ත කියලා කියන්නෙ අධිෂ්ටානයට. ඒ අදාළ අරමුණ කරා යන්න ලොකු අධිෂ්ටානයක් හිතේ තියෙන්න ඕන. ඒ සඳහා හිත දැඩිව මෙහෙයවන ගතියක් තියෙන්න ඕන. වීර්යයක් තියෙන්න ඕන. ඊළඟට වීමංසාවක්, නුවණින් විමසා විමසා මේ මාර්ගය හරියට පවත්වාගෙන යන්න හොඳ වීමංසන ශක්තියක් හිතේ තියෙන්න ඕන. මෙන්න මේ ඡන්ද චිත්ත වීර්ය වීමංසා කියන ඍද්ධිපාද වලින් එක එක්කෙනාට එකක් අඩු වැඩි විදියට පිහිටන්න පුලුවන්. හැබැයි අනිවාර්යයෙන් නිවන් මාර්ගයේ ගමන් කරන්න ඔය හතරෙන් එකක් මූලික වෙන්නම ඕන. එතකොට ඍද්ධිපාද, ඍද්ධිය උපදවාගන්නවානම් ඒ ඍද්ධිවලටත් මූලික වෙන්නෙ ඔය ඡන්ද චිත්ත වීර්ය වීමංසා කියන කරුණු හතර. එතකොට අනිවාර්යයෙන් අධිෂ්ටානය කියන එක නිවන් මාර්ගයේ ගමන් කරන කෙනාට අවශ්‍යමයි. එතකොට මෙතුවක් කල් අපි දස පාරමිතා ගැන ඉගෙන ගෙන අපි කිව්වා ඒ ගුණධර්ම තියෙන උත්තමයාව සරණ යන්න ඕන. ඒ සරණ ගියාම තමයි ඒ උත්තමයාගේ ආනුභාවයත් එක්ක එන්නෙ. දැන් අපි කියමුකෝ ධර්මය දන්නැති කෙනෙක් ධර්මය දන්න කෙනෙක් එක්ක වාසය කරනකොට ඔහුව නිතර ඇසුරු කරනකොට එයත් ධර්මය දන්න කෙනෙක් බවට පත්වෙනවා. ඒක වෙන්නෙ ඇසුරු කරන කෙනාගෙ ස්වභාවයත් එක්ක. ඊළඟට සමහර වෙලාවට ඔන්න අපි කියමුකො ස්වාමීන් වහන්සේලා වුනත්, බණ කියන ක්‍රමය, ඒ ස්වාමීන් වහන්සේ වැඩිපුර ඇසුරු කරන කෙනාගෙ භාෂා ශෛලියට හැදෙනවා. ගොඩක් දේවල් තියෙනවා. කතා කරන වචන හැදෙනවා. ඒ වගේ අපේ ගුණධර්ම අපිට පුරුදු කරන්න ඕන නම්, ගුණධර්ම පරිපූර්ණ කරපු උත්තමයෙක් සරණ යන්න ඕන. ඒ තමයි ලොව්තුරා සම්මා

සම්බුදුරජාණන් වහන්සේ. කොච්චර මේ ලෝකෙ පින් පුරාගෙන හිටියත් ලෝක සත්ත්වයා ඒ සියලු දෙනාම මෝරපු නෙළුම් මල් වගේ නම්, ඒ සෑම නෙළුම් මලක්ම පිපෙන්න හිරු එළිය, හිරු මඬල පායන්නම ඕන. හිරුමඬල තමයි ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. බුදු කෙනෙක් පහළ වෙන්නම ඕන පින්වතුනි අන් අයට ධර්මය අවබෝධ කරගන්න. ඒ නිසා අපෙත් සංසාරයේ තියෙනවා නම් යම් පිනක් ඒ පිනෙන් ප්‍රයෝජනය ගන්න බුදුරජාණන් වහන්සේ සරණ යන්නම ඕන. ධර්මය සරණ යන්නම ඕන. ආර්ය මහා සංඝරත්නය සරණ යන්නම ඕන. ඒකයි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකත්වයට පැමිණුන කෙනාට ඉස්සෙල්ලාම බුද්ධං සරණං ගච්ඡාමි, ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි කියලා තුන් වතාවක් සරණයේ පිහිටවන්නෙ. ඉතින් ඒ නිසා අද අපි ඉගෙන ගනිමු අධිෂ්ඨාන පාරමිතාව, අධිෂ්ඨාන පාරමිතාව කියන්නෙ තමන් යම්කිසි දෙයක් සමාදන් වුනොත් ඒක සකල වස්තුව නැතිවුනත්, අංගෝපාංග ශරීරයේ නැතිවුනත්, ජීවිතය නැතිවුනත් ඒ අදාල ගුණධර්මය පුරුදු කරනවා. දස පාරමිතාම පුරන්න, ඒ දස පාරමිතාවම අවසානයක් දක්වාම ගෙනියන්න මූලික වුනේම අධිෂ්ඨාන පාරමිතාව. මං දිවිහිමියෙන් දන් දෙනවා කියන අධිෂ්ඨානය මුල් කරගෙන තමයි දාන පාරමිතාව පුරන්නෙ. මං නොකඩවා සිල් රකිනවා කියන අධිෂ්ඨානය මුල් කරගෙනනෙ සීල පාරමිතාව පුරන්නෙ. ඊළඟට මාගේ කාමය අත්හැරලා මං පැවිදි ජීවිතයකට යනවා කියන මූලික අධිෂ්ඨානය මුල් කරගෙනනෙ පැවිදි ජීවිතේ නෙක්ඛම්මය පුරුදු කරන්නෙ. පැවිදි ජීවිතේ ගුණධර්ම දියුණු කර කර නිවනේ හිත පිහිටුව ගත්තු නිසානෙ මහණකම අත්හරින්නැතිව පැවිද්දේම වාසය කරන්නෙ. අධිෂ්ඨානය මුල් වෙලානෙ. ඊළඟට තමන් සසර දුකින් නිදහස් වෙන මූලික අධිෂ්ඨානය හිතේ තියෙන නිසානෙ ප්‍රඥා පාරමිතාව පුරන්නෙ. සත්‍යය පාරමිතාව පුරන්නෙ මම ඇත්ත කතා කරනවා කියන අධිෂ්ඨානය හිතේ තියෙන නිසානෙ, කවදාවත් බොරුවක් නොකියා. අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයකට එක බොරුවක් කියලා නෑනෙ, කොහොම අධිෂ්ඨාන ශක්තියක්ද. ඊටපස්සෙ අධිෂ්ඨාන පාරමිතාවක් කියනකොට ගොඩාක් අය දන්න ජාතක කතාව තමයි තේමිය ජාතක කතාව. ඒ එකයි, ඒ වාගේ ඒ සිද්ධි, ඒ වගේ අවස්ථා අසංඛෙය්‍ය අප්‍රමාණ ප්‍රමාණයක් සසරේ සිද්ධ වෙලා තියෙනවා, එච්චර අධිෂ්ඨානයෙන් හිටපු ඒවා. ඒ තේමිය කුමාරයාගේ මව චන්ද්‍රා බිසවට දරුවො නැතිව, ඉතින් බොහෝ කාලයක් ඉඳලා චන්ද්‍රා බිසව උපෝසථය සමාදන් වෙලා ඒ චන්ද්‍රා බිසව අධිෂ්ඨානයක් සත්‍යක්‍රියාවක් කලා, මං විවාහ වූ දා පටන් පතිවෘතාව රකිනවා,

මං උපෝසථය රකින කෙනෙක්, මං සිල් පද කඩාගත්තෙ නැති කෙනෙක්, ඒක සත්‍යයයි, ඒ සත්‍යානුභාවයෙන් මට දරුවෙක් ලැබේවා කියලා. සක්දෙවිඳු ඒක දැකලා සක්දෙවිඳු චුත වෙන්න ආසන්න බෝධිසත්ත්ව දිව්‍යරාජයාට අණ කලා, දිව්‍ය පුත්‍රය ගිහිල්ලා කුසේ පිළිසිඳගන්න අගබිසවගේ. ඔබට ගොඩාක් ගුණ පුරුදු කරන්න පුලුවන් වෙයි. කුසේ පිළිසිඳ ගත්තා. උපන් දා මහ වරුසාවක් ඇදහැලුනා. රට හැමතැනම තෙත් වුනා. දරුවො නෑ කියලා ගින්නෙන් හිටපු අයගේ හිත් සන්සිඳිලා ගියා. තේමිය කියලා නම තිබ්බා. මේ ජාතක කතාවේ නම මූගපක්ඛ ජාතකය. මේ කුමාරයා ඉපදිලා මාසයයි දැන්. එතකොට මාසයක් යනකල් අතපය එහෙ මෙහෙ හොල්ලන්නෑ, එහේම්මම ඉන්නෙ පුංචි දරුවො. ඊටපස්සෙ මාසයක් ගිය තැන සිනිඳු වස්ත්‍ර වලින් ඔතපු පුංචි දරුවා රජතුමා රාජසභාවෙ ඉද්දින් ඔඩොක්කුවෙ තිබ්බා, රජතුමා හුරතල් කරනවා. එතකොටම හොරු හතර දෙනෙක් ගෙනාවා. නඩුව විභාග කරලා රජ්ජුරුවො කිව්වා එකෙක්ගෙ බෙල්ල කපාපං, අනෙත් එකා උල තියාපං, අනෙත් එකා දඟගෙට දාපන්, අනෙත් එකාට කස පහර ගහපං, ඔය විදියට නියෝග කලා. අර පුංචි ළමයට ඒක ඇහිලා බය හිතුනා. ඊටපස්සෙ දෙවෙනි දවසෙත් රජ්ජුරුවෝ සිංහාසනයේ තියලා. රජතුමා වෙන කටයුත්තක්. සිංහාසනයේ පොඩි බබාට නින්ද ගියා. නින්ද ගිහිල්ලා පොඩ්ඩක් ඇහැරෙනකොට අර රාජ සේසත රාජ සම්පත්තිය දකිනකොට එකපාරටම බය හිතිලා මං කොහෙන්ද මේ රජමාළිගාවට ආවෙ කියාල දිවැසින් බැලුවා. බලනකොට පෙර ජීවිත පේන්න ගත්තා. දෙව් කෙනෙක්. ඊට කලින් ජීවිතේ බැලුවා නිරයේ හිටියේ. අවුරුදු විසිදාහක් මේ රජකම් කරලා කරගත්තු පාපය අවුරුදු අසූදාහක් විපාක දීලා. එතකොට කල්පනා කලා අම්මෝ දැන් ඊයේ මාගේ පියාණන් දඬුවමට අණ කලා. ඉතින් මේ ඔසුපත් නිරයේ උපදින, සතර අපායේ උපදින කර්ම කෙරෙන්නේ, මං මේකෙන් ගැලවෙන්නේ කොහොමද කියලා හිතනකොට මේ කුමාරයා කලින් ජීවිතේ අම්මා කෙනෙක්, දේවතාවිය අර සේසතේ පහළ වුනා. පුත්‍රය, ඉස්සෙල්ලාම ඉන්න කිව්වා බීරෙක් විදියට, කොරෙක් විදියට, ඊළඟට ගොළුවෙක් විදියට. මේ කරුණු තුන අධිෂ්ඨාන කරගෙන හිටියොත් ඔබට පුලුවන් කිව්වා බේරෙන්න. ඒ වෙලාවෙම සිතට අධිෂ්ඨානයක් ගත්තා මම ගොළුවෙක් විදියට ඉන්නවා. බීරෙක් විදියට ඉන්නවා. කොරෙක් විදියට ඉන්නවා කියලා. කතා කරන්නෑ, ඇහෙන ඒවට සංවේදී වෙන්නෑ, ඊළඟට අතපය හොල්ලන්නෑ. දැන් ළමයා පොඩ්ඩ පොඩ්ඩ වැඩෙනවා. කිසිම, දැන් දරුවා අඬන්නෙ නෑ, හැරෙන්නෙ නෑ, ඊළඟට අහන එකට සංවේදී නෑ,

ඊටපස්සෙ වෛද්‍යවරු ගෙනාවා. සියලු වෛද්‍යවරු කිව්වෙ ගොළුවන්ගේ දිව මෙහෙම නෙවෙයි, ඊළඟට කම්මුල් මෙහෙම නෙවෙයි, බීරන්ගේ කන් මෙහෙම නෙවෙයි, කොරුන්ගේ අතපය මෙහෙම නෙවෙයි. මේ දරුවා හිත දැඩි කරගෙන ඉන්නෙ ඒකයි මේ, මේ ළමයා ගොළුවෙක් බිහිරෙක් නෙවෙයි. ඊටපස්සෙ මේ ළමයා ලවා කතා කරවන්න උවමනා කමට කිරි දෙන්නැතිව හිටියා. මුලු දවසම කිරි දෙන්නෑ, උගුර වේලිලා කට වේලිලා, දිව වේලිලා තියෙද්දිත් අඬන් නැතිව ඉන්නවා. අධිෂ්ටානය. හවස ඉතින් අම්මා දරු දුකට ඉක්මණට කිරි දෙනවා. අවුරුද්දක් විතර මෙහෙම කළා. අඬන්නෑ. නොයෙක් දේවල් කලා. ඊටපස්සෙ කන බොන කාලෙ එනකොට කැවිලි පෙවිලි ගොඩ උඩ තිබ්බා, මෙහෙම අත තියලා ගනිං කියලා. බඩගින්නෙ ඉන්නවා. ගන්නෑ. ඊටපස්සෙ අවසානයේ මේ ළමයා ඇඳක තියලා යටින් ගිනිතිබ්බා. ඊටපස්සෙ මාව ගින්නට පිච්චුනාට කමක් නෑ, නිරයේ ගිනිදැල් මීට වඩා සැරයි - මං කිව්වෙ මීට වඩා දුකක් හිතපුවාම දැන් තියෙන දුක දරාගන්න පුලුවන් කියලා - නිරයේ දුක හිතන්න ඕන. ඒ හිතපු ගමන් අර ගින්දරෙන් පිච්චේවා කියලා හිටියා. අම්මා ඉක්මණට ගිහිල්ලා දරුවා ගත්තා. අඬන්නෙ නෑ, හෙල්ලෙන්නෙ නෑ. ඊටපස්සෙ මහා බිහිරි වාදන සංඛ නාද කරනවා, කන් ඒවට යොමු කරන්නෑ, ඇඟ ගැස්සෙන්නෑ, කොච්චර අධිෂ්ටානයක්ද. දැන් අපි පොඩ්ඩ දේකින් හිතමුකො නිකන් බඩුවක් පෙරළුනත් ඇඟ ගැස්සිලා යනවානෙ. එහෙම වෙන්නෑ දරුවාගේ. ඊටපස්සෙ අවුරුදු පහ වෙනකොට ළමයගේ ඇඟට සර්පයො දැම්මා. ඒත් සද්ද කරන්නෑ, ඊළඟට ඇතෙක් එව්වා. අනිත් දරුවො ඔක්කෝම දිව්වා. අර ඇතා ඇවිල්ලා මේ පුංචි ළමයා ළඟට ඇවිල්ලා පාගන්න හදලා, හොඬවැලෙන් එහෙට මෙහෙට තල්ලු කලා. ඒත් අඬන්නෙ මොකුත් නෑ එහෙම්මම ඉන්නවා. මේවා හිතාගන්න පුලුවන් ඒවා නෙවෙයි පින්වත්නි. අපි මේ වචනෙට කිව්වට. අධිෂ්ටාන පාරමිතාව. මං මේ දේ කරනවා කිව්වොත් ඒ අධිෂ්ටානෙම ඉන්නවානෙ. කොච්චර මේ ලෝකෙ මං මේ දේ කරනවා කියලා තත්පරේට වෙනස් කරපු අය ඉන්නවාද. අවුරුදු ගාණක් ඒ අධිෂ්ටානයෙන් ඉඳලත් වෙනස් කරනවානෙ. ඊටපස්සෙ මේ විදියට අනේකවිධ දේවල් කරලත් දරුවා කිසිම වෙනසක් නෑ, ඊටපස්සෙ මොකද කලේ, රාජපුරුෂයෙක් කඩුවක් අමෝරාගෙන කෝ මේ රජ්ජුරුවන්ගේ කාලකණ්ණි දරුවා, ඔකා පෙති ගහනවා කියලා කඩුව උස්සගෙන දරුවා ළඟට ආවා, ඒත් අනිත් දරුවො දිව්වා, මෙයා ගාණක්වත් නෑ, මේ ඉඳලා මේ විදියට අනේක උපක්‍රම අවුරුදු දාසයක් කලා. දාසය වෙනි අවුරුද්ද වාගේ එනකොට හැඟීම් දැනීම් ඇතිවෙන කාලෙ, ඊටපස්සෙ මේ කාලෙ හරි මේ

ළමයාගේ ජීවිතේ තව වෙනසක් කරන්න ඕන කියලා, මෙයාව හොඳට සුවඳ වතුරෙන් නාවලා, උඩුමහන් තලේ තියලා, හොඳට නැට්ටුක්කාර විසේකාර නළඟනෝ ටිකක් ඒ කුමාරයා ළඟට යැව්වා. ඒ කුමාරයා මොහොතින් හිතුවා, බලන්න අධිෂ්ටාන පාරමිතාව, ඒකයි බුදුරජාණන් වහන්සේ සරණ යන්න ඕන පින්වත්නි. මොහොතින් හිතුවා මේ ස්ත්‍රීන්ට මාව අවුස්සන්න දෙන්නෙ නෑ. මේ ස්ත්‍රීන්ගේ පහස ඉදිරියේ මාව ඇවිස්සෙන්න එපා කියලා හුස්ම නැවැත්තුවා. හුස්ම නැවැත්තුවා. පුදුම දෙයක් ඒක. එහෙම්මම හුස්ම නතරවුනා. අර කාන්තාවො ඇවිල්ලා මෙයාගේ ශරීරය ස්පර්ශ කර කර නොයෙක් නාඩගම් විකාර කරනවා. හුස්ම නවත්තගෙන ඉන්නවා. ඊටපස්සෙ ඒ ගෑණු ටික ඔක්කොම මේ මනුස්සයෙක් නෙවෙයි කියලා ඇවිල්ලා කිව්වා මෙයා මේ පණ තියෙන මනුස්සයෙක් නෙවෙයි කිව්වා. ඊටපස්සෙ ඒත් ඉවසලා හිටියා. ඊටපස්සෙ අවසානයේ ආයෙ ගෙන්නුවා මේක ඇත්තද බලන්න මේ ළමයාට කතා කරන්න බැරිද. එතකොට රාජ වෛද්‍යවරු ඇවිල්ලා දැන් අවුරුදු දාසයක් බැරි එකනෙ. කිව්වා රජතුමනි අපිට වැරදිලා මේ ළමයා ගැන කියලා තියන්නෙ. මේ ළමයා කාලකණ්ණියෙක්. මේ ළමයාගෙ හෝරාව අනුව තව ටික දොහක් තියාගත්තොත් එක්කො රජ්ජුරුවො මැරෙනවා, නැත්නම් අගබිසව මැරෙනවා, එක්කො රාජ්‍යයට හෙණයක් කඩාපාත් වෙනවා කිව්වා. ඊටපස්සෙ මොකද කලේ, රජතුමා බිසවටත් කියලා, දැන් මේ කුමාරයා ගෙනියනවා කියලා, කුමාරයා මරලා දාමු කියනවා. අනේ රජතුමනි, ඔබතුමා මේ කුමාරයා ඉපදිච්ච දවසේ මට වරයක් දුන්නා. මේ ළමයාව රජ කරවන්න කිව්ව. බිසව බිසවට ඔල්මාදෙද කියලා ඇහුවා. අමු කැවිලද කියලා ඇහුවා. මේ කතා කරන්න බැරි ගොළුවෙක් බීරෙක් වගේ සත්ත්වයෙකුට රජකමක් දෙනවාද, අනේ අවුරුදු හතකට දෙන්න. ඊටපස්සෙ අවසානෙ කොහොම හරි අම්මලා කියන ඒවා බලන්න, ඒ කියන්නෙ බලන්න, ගොළුවෙක් බීරෙක් කොරෙක් වුන පුතා වුනත් රජ කරන්නනෙ අම්මලා බලන්නෙ. මේ බලන්න මාතෘ සම්පත්තිය, මහාමායා දේවිය ඔය. රජතුමාට වැඳලා කිව්වා දරුවා මට රජකරවන්න ඕන. දවස් හතකට ඔටුනු පළඳලා සිංහාසනේ තියලා තිබ්බා. රටේම අණබෙර යැව්වා මේ තේමිය රජ්ජුරුවන්ගේ රාජාඥාවයි කියලා. හත්වෙනි දවසේ එක රථාචාර්යවරයෙකුට කියලා කරත්තෙ දාලා ඈත සොහොනකට ගිහිල්ලා වලේ දාලා වරෙන් කිව්වා පණ පිටින්. ඉතින් අවසානේ බිසවගෙන් දරුවා, අවුරුදු දාසයේ කුමාරයා ඔසවාගෙන ඇදගෙන එද්දින් මව්බිසව කොහොම විලාප තියන්න ඇතිද. මොහොතකට හිතුනා කියනවා, අම්මේ කියලා කියන්න. මොහොතකට

හිතුනා කියනවා. අවුරුදු දාසයක්, ඒ අම්මාගේ ඇස් ඉදිමිලා, කඳුළු නෑ කියනවා අඬලා. ඊටපස්සෙ මොහොතකට හිතුනා කියනවා අම්මේ කියලා කියන්න, එහෙම හිතුනට ඒ මොහොතෙම හිතුවා කියනවා මං අවුරුදු දාසයක් මගේ අධිෂ්ටානය නැතිවෙයි මේක වුනොත්, මං අධිෂ්ටානය නැතිවෙන්න දෙන්නෑ කියලා ආයෙ ඇස් පියාගත්තා. ඊටපස්සෙ කරත්තෙට ගිහින් දැම්මා. යොදුන් තුනක්, කිලෝමීටර් තිහක් රාජ්‍යයෙන් ඈතට ගියා. ඊටපස්සෙ ඒ කුමාරයා දැන් පින් බලයට ලස්සන උයනක්, වනයේ තියෙනවා උයනක්, අර රථාචාරියාට සොහොන වගේ පේනවා. සොහොනෙනෙ වළේ දාන්න කිව්වෙ. අර උයනෙන් නතර කරලා කරත්තෙ පොළොව හාරන්න ගත්තා. ඒ වෙලාවෙ අර කුමාරයා නැගිට්ටා. දැන් තමන්ගේ අදහස මුදුන්පත් වුනා. අවුරුදු දාසයක්, කොච්චර සතුටක් තියෙන්න ඇතිද. ඊටපස්සෙ ඒ කරත්තෙන් නැගිටලා එළියට බැස්සා. ඒ කරත්තෙන් නැගිටිනකොට මෙහෙම කරත්තෙ ඉස්සිලා පඩිපෙළ හැදුනා කියනවා පින් බලේට. ඊටපස්සෙ ඒ කුමාරයාට ආසා හිතිලා තියෙනවා ආභරණ පළඳගන්න. එතකොටම සක්දෙවිඳු විස්කම් දිව්‍ය පුත්‍රයාට කියලා සියලු ආභරණ වලින් සරසවනවා. හදිසියේවත් රථාචාර්ය වරයා යුද්ධෙකට ආවොත්, තමන් එක්ක හැප්පෙන්න ආවොත් වළක්වන්න පුලුවන්ද කියලා බලන්න කරත්තෙ ඉස්සුවා. අර අශ්වයෝ හතරදෙනෙක් අදින කරත්තෙ නිකං සෙල්ලම් බඩුවක් වගේ ඉස්සුවා, අතපය පිහලා. ටිකක් සක්මන් කලා, යොදුන් සීයක් වුනත් දුවන්න පුලුවන් ඇඟේ හයිය තියෙනවා. අවුරුදු දාසයකට පස්සෙ මේ හිටගත්තෙ. ඊටපස්සෙ දැන් අර මනුස්සයා හාරනවා වල. ගිහිල්ලා කිව්වා කාටද ඔය වළක් හාරන්නෙ. ඊටපස්සෙ කිව්වා මේ රජතුමාගේ පුතා, අන්ධයෙක් කොරෙක් ගොළුවෙක් බීරෙක් වළේ දාන්න. ඊටපස්සෙ කිව්වා අර ගහක් යට ඉඳලා ගහේ කොළයක් කඩන්න හොඳ නෑනෙ. ඊටපස්සෙ ඒ වගේ මහරජ්ජුරුවන්ගෙන් යැපිලා මහරජතුමාගේම දරුවෙක් පණ පිටින් වළේ ලාන එක ධර්මයක්ද කියලා ඇහුවා. උඩ බැලුවා, දැන් වළේනෙ ඉන්නෙ අරයා. දිව්‍ය රාජයෙක් වාගේ. ඇහුවා දිව්‍ය රාජය, ඔබ මේ මහ වනයේ ඉන්න වෘක්ෂ දේවතාවෙක්ද, සක්දෙවිඳුද කියලා. මං සක්දෙවිඳු නෙවෙයි කිව්වා, උඹ ගෙනාපු කරත්තෙ ආපු තේමිය කුමාරයා කිව්වා මං. ඉක්මණට වලෙන් උඩට ආවා. කරත්තෙ බැලුවා කෙනා නෑ, මේ ඉන්නෙ. වැඳලා කිව්වා අනේ කුමාරය ඇයි මෙහෙම කලේ, යං රාජ්‍යය ගන්න. ඊටපස්සෙ කිව්වා මං අවුරුදු දාසයක් හිටියේ මේකට, මෙහෙම වුනේ මෙහෙමයි කියලා කලින් ජීවිතේ විස්තර ටික ඔක්කොම කිව්වා. අර වළ හාරපු එක්කෙනා සාරිපුත්තයන් වහන්සේ සසරේ. පුදුම දේවල්

මෙහෙමත් සංසාර. ඊටපස්සෙ මොකද කලේ, කිව්වා මට බෑ, මං පැවිදි වෙනවා මේ වනයේම. ඉතින් අරයා සියලු ආභරණ සහිත සියලු දේවල් ගලවලා දීලා තාපස පිරිකර ඇතිව වනයට ගියා. සක්දෙවිඳු පන්සලක් මැව්වා. ඊටපස්සෙ අරයා රාජ්‍යයට ගිහිල්ලා කියනකොට මුළු රාජ්‍යයම ඒකනින්නාද වෙලා මහා මුහුදු රැල්ලක් පෙරලෙනවා වගේ සේනාවත් එක්ක රජ්ජුරුවෝ පුතා සොයාගෙන ආවා, අම්මා වැළපීගෙන ආවා. ඒ සියලු දෙනාට ආකාශයේ ඉඳලා බණ කිව්වා. පියා ද පැවිදි වුනා, මව ද පැවිදි වුනා. අමාත්‍ය මණ්ඩලය ද පැවිදි වුනා. ඒ මුළු රාජ්‍යයම පැවිදි වෙලා තියෙනවා පින්වත්නි. ඊටපස්සෙ කොහොමද කියලා කියනවා නම්, ඒ සියලු දෙනාම ධ්‍යාන සමාපත්ති ලබලා තියෙනවා. යම්කිසි කෙනෙකුට රාග සිතක් ඇතිවුනොත් ඒ හිත දිවැසින් බලලා තේමිය තාපසයින් වහන්සේ අහසින් ගිහිල්ලා එයාට බණ කියලා තියෙන්නෙ. අවසානෙ ඔක්කොම මහණ වෙලා, මහණ වෙලා අවසානෙ එක මනුස්සයෙක් බොන්න ගිහිල්ලා, බොන්න යාළුවෙක් නෑ, සුරා පානය කරන්න. ඊටපස්සෙ අර ගෙනාපු රා කබල විසික්කා කරලා එයත් ගිහිල්ලා මහණ වෙලා තියෙනවා, අවසානෙට. එදා මුගපක්ඛ සමාගම කියලා කියන්නෙ. එදා ඒ මහණ වුනු අය සියලු දෙනා ගෞතම බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වෙලා තියෙනවා. අවසානෙට අර බොන්න කෙනෙක් නැතිව මහණ වෙච්චි කෙනා තමයි ලංකාවේ රහත් වුනේ, මලියදේව රහතන් වහන්සේ. මලියදේව මහරහතන් වහන්සේ අවසාන රහතන් වහන්සේ කියන්නෙ මේ බුද්ධ ශාසනේ අවසාන රහතන් වහන්සේ නෙවෙයි, මුගපක්ඛ සමාගමේ හිටපු සියලු දෙනා රහත් වුනා. ඒ මුගපක්ඛ, තේමිය කුමාරයා ළඟ මහණ වෙච්චි අයගෙන් අවසානෙට රහත් වුනේ, ඉතිරිවෙලා මලියදේව මහරහතන් වහන්සේ. ඒකයි ඒ අවසන් රහතන් වහන්සේ කියලා කියන්නෙ. එතකොට බලන්න පින්වතුනි අධිෂ්ඨානය. දැන් වැඩිය ඕන නෑ, දැන් අර ඉවසීම, ක්ෂාන්ති පාරමිතාවේ අතපය කපද්දින් එක අරමුණක ඉන්නවානෙ. මං තරහ ගන්නෑ කියලා. ඊටපස්සෙ සර්පයා නටවද්දින් ඉන්නවානෙ මං තරහා ගන්නෑ කියලා. ඇඟට උල්වලින් අනිද්දින් ඉන්නවානෙ තරහ ගන්නෙ නෑ කියලා. කොහොමද, ඒ අධිෂ්ඨානය. ඒ පාරමිතාව ඉදිරියට පුරන්න තියෙන අධිෂ්ඨානය. දැන් ඔබ හිතන්නකො මං මෙච්චර කාලයක් සිල් රකිනවා, මම තරහ ගන්නැතිව ඉන්නවා කියලා අධිෂ්ඨානය කොච්චර වෙලාවක් තියාගන්න පුලුවන්ද කියලා. ඒ නිසා නොකඩවා එකදිගට ගුණධර්මයක් පුරුදු කරන්න කැමැති නම් අනිවාර්යයෙන්ම ඒ අධිෂ්ඨානය පාරමිතාවක් විදියට පුරපු ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ

යන්න. ඒ උත්තමයන් වහන්සේ සරණ ගියාට පස්සෙ ඒ ගුණධර්ම තමන්ට පුරුදු කරගන්න පිළිවෙල හැදෙනවා. ඉතින් පින්වතුනි අපිට මේ බුද්ධ ශාසනයේ යන්න කොච්චර අධිෂ්ටානයක් ඕනද. ඇයි මේ තියෙන එක එක දෘෂ්ටි වලට අහුවෙන්නැතිව, එක එක්කෙනාගෙ කයි කතන්දර වලට අහුවෙන්නැතිව - ඇයි කොච්චර අපි සමාජයෙන් හිර කරනවාද ධර්මයේ හැසිරෙන්න දෙන්නැතිව - අමනුස්ස බලපෑම් වලින් වැටෙන්නැතිව, කොච්චර අමනුස්ස බලපෑම් එනවාද ධර්ම මාර්ගයේ හැසිරෙන්න ගත්තට පස්සෙ. සංසාරයේ අපි දිහා බලලාවත් නැති ඥාතීන් ඔක්කෝම රොදබැඳගෙන එනවානෙ කෙනෙක් සිල් ගුණදම් රකින්න ගන්නකොට. මෙයාලා අපිටත් ඉහළින් යන්න හදන්නෙ කියලා. සංසාරෙ නැති නෑදෑකම් කියාගෙන භූතයො, පෙරේතයො, නාගයො එනවානෙ මහණකම හරියට කරගෙන ගියාට පස්සෙ. ඒ නිසා ලේසි නෑ, ඒ සෑම තැනකම තමන් වැටෙන්නැතිව යන්න හිතිච්ච අධිෂ්ටානය තියෙන්න ඕන. සමහර වෙලාවට සසර දුකින් නිදහස් වෙන්න ඕන කියලා මහණ වෙනවා. මහණ වෙලා ටික දවසකින් සිවුරු ඇරලා යනවා. අවුරුදු කීපයකින් සිවුරු ඇරලා යනවා. දැන් මහණ වෙන්න එන්න හිතුනෙ සසර දුක හිතිලා, සංසාරෙන් නිදහස් වෙන්න ඕන කියලා. දැන් මහණකමට ඇවිල්ලා මහණකමේ පීඩාව ඇතිවුනා කියලා සංසාරය නැතිවෙනවාද. සසර බය නැතිවෙනවද, සතර අපා බය නැතිවෙනවාද. ඒවා නැතිවෙලා ඔක්කෝටම විසඳුම් හදාගෙනද සිවුරු හැරලා යන්නෙ. බලන්න ඒ අධිෂ්ටානයේ ඉන්න බෑ. ඒ අරමුණේ ඉන්න බෑ, ඇයි ඒ අරමුණේ ඉන්න බැරි. සරණ ගිහිල්ලා නෑ, හිතට එනවා හැඟිම, මහණ වෙන්න හැඟීම එනවා, නමුත් සරණ නෙවෙයි, එකපාරම ලොකු දේවල් අල්ලන්නෙ. ඔය එකපාරම පංචුපාදානස්කන්ධය, ආයතන, පටිච්චසමුප්පාදය, නිවන, ධ්‍යාන, සමාධි, සමාපත්ති ගැන කතා කරගෙන ආපුවාම මම නම් මධ්‍යස්ථව නිහඬව ඉන්නවා, මොකුත් දන්නැති විදියට. හේතුව, අපිත් දැන් මහණකමේ අවුරුදු පහළොවකට වැඩියිනෙ. එතකොට අපිට මුණගැහිලා තියෙනවා ඒ වාගේ කතා කරපු අය. ලොකුවට කතා කරගෙන ආපු අය. අපි ඒ කාලෙත් නිහඬව හිටියා, දැනුත් නිහඬව ඉන්නවා. ඊටපස්සෙ එයා අවසානෙදි කොහේවත් යන සක්කරවට්ටමක පටලැවිලා, මහණකමුත් නැතිකරගෙන ගිහිල්ලා. කතා කලේ කොහොමද. ඒ නිසා ඔක්කෝටම වුනේ තිසරණයට බර දුන්නෑ, සරණට බර දුන්නෑ, නිවන් දකින්න ඕන කියලා ආපු ගමන් එකපාරම එරමිණියා ගොතාගෙන අනිත්‍යයි කියන්නමයි හිතුවො. නමුත් මේකට ප්‍රවේශ වෙන මාවත දුන්නෑ, සරණ ගිය ශාස්තෘන් වහන්සේට, ධර්මය කියලා දුන්නු

ශාස්තෲන් වහන්සේට ජීවිත පූජාව කලේ නෑ, ඒ උත්තමයන් වහන්සේගේ සිරිපා ළඟ ජීවිතේ මලක් කරලා පිදුවේ නෑ. ඒ උත්තමයන් වහන්සේගේ ගුණකඳ දන්නෙ නෑ. ඒකයි, ඒනිසා මේක ලේසි දෙයක් නෙවේ පින්වතුනි. පණ්ඩිත මිනිස්සු පණ්ඩිත කමෙන්ම මැරිලා යනවා. සසරටම වැටෙනවා. එදත් අහිමි වුනේ ඔය කෙලෙස් නිසා. දැනුත් අහිමි වෙන්නෙ මේ කෙලෙස් නිසා. මතක තියාගන්න තිසරණයයි, දහම් දැනුමයි කියන්නෙ දෙකක්. ගොඩාක් මිනිස්සු ලොකුවට බරපතලව කතාකරන්නෙ, අභිධර්මයෙන් චිත්ත චෛතසික වලින් කතා කරන්නෙ. බුදුසරණ නෑ, සරණ ගිහිල්ලා නෑ. ඒ නිසා මේ තිසරණය කියන එක දහම් දැනුමත් එක්ක හෝ පණ්ඩිතමානීකමත් එක්ක නෙවෙයි තියෙන්නෙ. හිතේ පහන් බවත් එක්ක. හිතේ ප්‍රසාදයත් එක්ක. ඒක සුන්දර වූ දෙයක්. ඒ ශාස්තෲන් වහන්සේගේ සරණ සුන්දර දෙයක්. කොච්චර සුන්දරයිද කියනවා නම් රහත් වුනත් බුදුගුණම කිය කියා ඉන්න සුන්දර දෙයක්. ඒකයි සාරිපුත්තයන් වහන්සේ අසිරිමත් ගුණකඳ වදාළේ. ඉතින් ඒ නිසා හොඳ චිත්ත අධිෂ්ටානයක් ඇති කරගන්න. මේ දහමේ එකදිගට ගමන් කරන්න පැහැදෙන්න ඕන නම් බුදුරජාණන් වහන්සේම සරණ යන්න. අධිෂ්ටාන පාරමිතාව පරතෙරට පත්වූ මගේ බුදුරජාණන් වහන්සේ මුළු හදවතින්ම සරණ යනවා කියලා තිසරණය අධිෂ්ටාන කරගන්න. ඉතින් අපිට ගොඩාක් කාරණා මගේ බුදුරජාණන් වහන්සේ ගැන කතා කරන්න තියෙන නිසා, අපි අද තවත් පාරමිතාවක් ගැන කතා කරමු. දානං සීලංච නෙක්ඛම්මං පඤ්ඤා විරියේන පඤ්චමං ඛන්ති සච්චමදිට්ඨානං මෙත්තුපෙක්ඛා ඉමෙ දස. මෛත්‍රිය. ඊළඟ පාරමිතාව මෛත්‍රිය. මගේ බුදුරජාණන් වහන්සේ තරම් සංසාරයේ මෛත්‍රිය පුරපු තවත් කෙනෙක් නම් නෑ. මේ තුන් ලෝක ධාතුවේම මෛත්‍රිය අනන්තයටම පුරුදු කරපු උත්තමයා අපේ මහා බෝධිසත්ත්වයන් වහන්සේ. දීපංකර පාද මූලයේ විවරණ ගත් දා පටන් වජිරාසනයේ සම්බුදු වෙන මොහොත දක්වා, එතනනෙ සසර, ඒ වජිරාසනයේ සම්බුදු වෙන මොහොත දක්වාම අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක්, මගේ බුදුරජාණන් වහන්සේට, බෝධිසත්ත්වයන් වහන්සේට හිතේ තරහකාරයෙක් ඉඳලා නැනෙ. උන්වහන්සේට තරහකාරයෙක් නෑ, දේවදත්ත වෛර බැන්දට. එතකොට අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් හිතේ තරහාකාරයෙක් නෑ කියන්නෙ ආශ්චර්‍යයියි, අද්භූතයි. කල්ප ලක්ෂ ගාන ගැන කවර කතාද, මේ ජීවිතේ අපි නූල්පොටක් නැතිව අම්මගේ බඩෙන් ඉපදුනේ. නූල් පොටක් නැතිව ඉපදුන අපි මැරෙනකොට කොයිතරම් කෝන්තර ටිකක් හිතේ තියාගෙන, බැඳීම් ටිකක්

හිතේ තියාගෙන, තරහකාරයො ටිකක් හදලා, සංසාරයේ පතාගෙන උඹලට දෙන්නම් කියලා, එහෙමනේ මිනිස්සු මැරෙන්නෙ. ආවෙ නූල් පොටක් ඇගේ නැතිව අම්මවත් අඳුරගන්න බැරිව ආවෙ. එහෙම ඇවිල්ලා යන්නෙ කොහොමද, යන්නෙ කොහොමද පින්වතුනි, එතකොට මේ ජීවිතේ තරහකාරයො ටිකක් හදාගන්නවා. ඊළඟ ජීවිතේ මැරිලා ඒ ජීවිතේ තව තරහකාරයෙක් හදාගන්නවා. ඔහොම ඔහොම යනකොට තරහාකාරයොයි, බැඳීම් ගොඩකුයි ඒවා හදාගෙන සංසාරේ යන්නෙ. කවද්ද පින්වතුනි නිවන් දකින්නෙ. මේ දුක් කෙළවර කරන්නෙ කවද්ද. සසර දුකින් නිදහස් වෙන්නෙ කවද්ද. මාගේ බුදුරජාණන් වහන්සේගේ නම් හදවතේ බැඳීම් නෑ, තරහකාරයො නෑ, පළිගන්න අය නෑ. කහට නෑ, අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් කහට නැති හිතක්. ජරාව නැති හිතක්, පුරුදු කලා මෛත්‍රිය පාරමිතාව. සොඳුරු පාරමිතාවක්, මෙත් සිත. භාවනාවෙන් බ්‍රහ්ම ලෝකෙ ඉපදිලා තියෙන්නෙ ගොඩක් මෛත්‍රී භාවනාව. මහා බෝධිසත්ත්වයෝ වැඩිපුරම ජීවිතේ ගත කරපු තැනක් තමයි බ්‍රහ්ම ලෝකය. ඒ බ්‍රහ්ම ලෝකෙ පුරාවටම උන්වහන්සේගේ මෛත්‍රී ධ්‍යානය. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, සංවට්ඨ විවට්ඨ කල්ප හතක්. මහා කල්ප හතක් බ්‍රහ්ම ලෝකෙම ඉපදිලා තියෙනවා එක දිගටම, මෛත්‍රී සමාධියෙන් ඉඳලා. ඊටපස්සෙ පින්වතුනි, සාම කුමාරයාගේ ජීවිතය බලන්න. ඒ දුකූල තාපසයාගේ තාත්තා ඔහු වැදි පුත්‍රයෙක්. බලන්න ඒ මහා කශ්‍යපයන් වහන්සේ. බ්‍රහ්ම ලෝකෙන් චුත වෙලා වැදි පරම්පරාවක ඉපදුනා. බද්ධාකාපිලානි, බ්‍රහ්මලෝකෙ ඉපදිලා බ්‍රහ්ම ලෝකෙයන් චුතවෙලා වැදි කුලයේ ඉපදුනා. දැන් දෙන්නම වැදි කුලයේ සෙල්ලම් බත් උයාගෙන ඉන්නවා. සත්තු මරන්න යන්නෑ, තරුණ වුනා. මේ ලස්සන රූප තියෙන නිසා, සොඳුරු නිසා මිහිරි වදන් ඇති නිසා දෙමව්පියෝ මේ දරුවන්ට විරසකයක් කරේ නෑ, තරුණ වුනාට පස්සෙ මේ දෙන්නා බලෙන්ම මේ දෙන්නා විවාහ කෙරෙව්වා. රාග සිතක් ඇතිවෙන්නෑ. ඊටපස්සෙ ඒ අම්මලා කිව්වා උඹලා වැද්දො කරන්න ඕන වැදි වැඩ කරන්නෙත් නෑ, කිසිම දෙයක් නෑ, උඹලා දැන් මොකක්ද ඊළඟට කරන්නෙ. ඔයාලා කැමති නම් අපි මහණ වෙන්නම් කිව්වා. හා මහණ වෙනිල්ලා කිව්වා. දෙන්නාම තාපස පිරිකර අරගෙන පර්වතයෙන් පර්වතයට ගිහිල්ලා ගංගාවක් අයිනේ පන්සලක් හදාගෙන ඉන්නවා, දුකූල තාපසතුමාත්, ඒ තාපසියත්. සක්දෙවිඳු උපස්ථානයට එනවා. සක්දෙවිඳු දිවැසින් දැක්කා අනාගතේ මේ දෙන්නාට කර්ම විපාකයක් එනවා ඇස් අන්ධ වෙනවා. දරුවෙක් එන්න ඕන, ඊටපස්සෙ කිව්වා, ඔබ දෙන්නා පිරිසිදු බව

දන්නවා. නමුත් එක දරුවෙක් හදන්න කියලා. ඒයි සක්‍රය අපගේ බඹසරට අනතුරු කරන්න එපා කිව්වා. මේ ඉරහඳ පුපුරලා ගියත්, මේ මහපොළොව දෙබෑ වෙලා ගියත් ඒයි බ්‍රහ්මය අපි දෙන්නාගෙන් මෛථූන්‍ය සේවනයක් ගැන කතා කරන්න එපා කිව්වා, මහා කශ්‍යපයන් වහන්සේ සසරේ. ඊටපස්සෙ ආයෙත් වැඳලා කිව්වා, මං මේ අනතුරක් දැකලා කියන්නෙ. එහෙනම් මෙතුමිය මල්වර වෙන කාලෙක ඔබතුමාගේ මහපටැඟිල්ලෙන් නාභි මණ්ඩලය පොඩ්ඩක් ස්පර්ශ කරන්න. මං මේ කියන දේ දිව්‍ය රාජයෙක් කියන දේ අහලා මේක කරන්න, අනාගතේ ලොකු අනතුරක් ජේනවා කිව්වා. ඊටපස්සෙ ඒකට කැමැති වුනා. ඔන්න ඒ තාපසියගේ කාලය එනකොට සක්දෙවිඳුත් ආවා, අර දිව්‍ය පුත්‍රයාත් ආවා. ඊටපස්සෙ අර තාපසයින් වහන්සේ, තාපසයා දූකුල තාපසයා අර නාභිමණ්ඩලය ස්පර්ශ කරන මොහොතේම අර දිව්‍ය රාජයා එතනින්ම චුත වෙලා කුසේ පිළිසිඳ ගත්තා. ඊටපස්සෙ ඔන්න සාම කුමාරයා ඉපදුනා. හරී ආදරෙයි. ඉතින් අවුරුදු දාසයක් මෛත්‍රියෙන් ඉන්නෙ. බ්‍රහ්මචාරියි. බලන්න උපතින්ම බ්‍රහ්මචාරී වෙලා, රාගය ගැන කතාවක් නෑ, කාමය ගැන කතාවක් නෑ, නරක වචන නෑ, මෛත්‍රිය විතරයි තියෙන්නෙ. මහා වනයේ කවුරුවත්ම නෑ, අම්මයි තාත්තයි එක්ක ඉන්නෙ, ඒ දෙන්නා තපස් රකිනවා. මෙයා එලවැල ගේනවා, කොහොම සොඳුරු ජීවිතයක්ද, ආශ්චර්යයියි. ඒ වාගේ ජීවිත ගැන අපිට හිතෙන් මවාගන්නවත් බැරි තරම්. සිංහයෝ කොටි වළස්සු අර තාපසයින් වහන්සේව පිරිවරා ගත්තා. සිංහයෝ කොටි වළස්සු සාම කුමාරයාව පිරිවරා ගත්තා. කිසි ඒ සාම කුමාරයාගේ හිතේ තියෙන මෛත්‍රියේ බලයට සිංහයන්ට සත්තු කන්න හිතෙන් නෑ කියනවා, කොටින්ට සත්තු දඩයම් කරන්න හිතෙන් නෑ කියනවා. මුවෝ හාවො සිංහයෝ කොටියෝ අර වතුර ගේන්න යනකොට සාම කුමාරයාගෙ පිටිපස්සෙන්මයි කියනවා. මේ පැත්තෙ මුවෙක්ගේ මේ පැත්තෙ සිංහයෙක්ගේ කර උඩ වතුර කළ දෙක තියාගෙන තමයි මේ වතුර ගෙනෙන්ට යන්නෙ සාම කුමාරයා. ඊටපස්සෙ සාම කුමාරයා එහෙම යනකොට ඔය කාලේ දවසක් එලවැල නෙලන්න ගිහිල්ලා අම්මයි තාත්තයි දෙන්නා වැස්සක් වෙලාවෙ තුඹසක හිටියා. ඇඟෙන් වතුර හේදිලා ගිහිල්ලා අර තාපසයන්ගේ කුණු තැවරුනු ශරීරයේ ඒ තුඹසේ හිටපු විසඝෝර සර්පයෙක්ගේ ඇඟට වතුර වැටුනා. ඒ සර්පයා කිපිලා විස දුමක් එව්වා. ඒ දුමෙන් තමයි ඇස් දෙක අන්ධ වුනේ ඒ තාපසයාගෙයි, තාපසියගෙයි. කුමාරයා පියාණන් හොයාගෙන ගිහිල්ලා අඬලා දොඩලා රැගෙන එනවා. එදා ඉඳලා උපස්ථාන කරනවා. ඊටපස්සේ මේ කුමාරයා දවසක් පොකුණට ගිය වෙලාවෙ

තමයි මුවදඩයමේ ආපු රජ්ජුරුවෝ මේ රත්තරන් පාට මෛත්‍රියෙන් බැබලෙන කුමාරයා දැකලා හිතුවේ මේ කුමාරයා මනුස්සයෙක්ද, නාගයෙක්ද. නාග රාජයෙක්ද දන්නෑ කියලා හිතලා තමයි ඊතලෙන් තිබ්බෙ. මේ දකුණු පැත්තෙන් ගිහිල්ලා වම් පැත්තෙන් මතුවුනා ඊතලේ. එහේම්මම වැටුනා. අනේ කාටවත් හිංසාවක් නොකරන මා හට කවුද විද්දේ කියලා තමයි කිව්වෙ. ඉතින් රජතුමා ඒකට ඇඟ හිරිවැටිලා ගියා. තරහක් නෑ ඒ වචන වල. සත්ත්ව සීපාවො පැනලා දිව්වා. ඒ රජතුමා ඇවිල්ලා කුමාරයාගෙන් අහලා ඔබ කව්ද කින්දමන්ද කියලා, අනේ මගේ අම්මයි තාත්තයි දෙන්නා ඉන්නවා, ඒ දෙන්නාට උපස්ථාන කරන්න කෙනෙක් නෑ මමයි ඉන්නෙ, අනේ මට දුක මං නැතිවුනාට පස්සෙ මගේ අම්මයි තාත්තයි මොකක්ද වෙන්නෙ කියලා. ඊටපස්සෙ කිව්වා මම යන්නම්කො කුමාරයා කියලා ඉක්මණට ගිහිල්ලා අම්මටයි තාත්තටයි කිව්වා ඔබගේ කුමාරයා නැතිවුනා. මාව ඊටපස්සෙ අම්මයි තාත්තයි කියනවා, එක හුස්මක් දැරුවේ, දරලා කිව්වා අපි ඒ කුමාරයා ළඟට ගෙන්නගෙන යන්න. ඒ කුමාරයා ළඟට ගෙන්නගෙන ආවා. ඒ කුමාරයා ඔඩොක්කුවේ තියාගෙන අම්මා ඔළුව අතගානකොට, අම්මාට දැනුනා කුමාරයාගේ ඇඟේ රස්නෙ තියෙනවා. පියාණන්ට කිව්වා පියාණෙනි, පුත්‍රයා නැතිවෙලා නෑ. සත්‍යක්‍රියා කරමු කියලා දෙන්නගේ පුණ්‍ය තේජසින් සත්‍යක්‍රියා කලා. ඔන්න සත්‍ය පාරමිතා. ඊටපස්සෙ පියතුමා සත්‍යක්‍රියා කලා, මට මේ මට ලෝකෙ ඉන්න එකම එක ප්‍රියමනාප දරුවා තමයි සාම කුමාරයා. ඒ සාම කුමාරයා නැති කරපු මේ රජ්ජුරුවො ගැන මට තරහක් ඇතිවුන් නෑ, ඒක සත්‍යයයි, ඒ සත්‍යානුභාවයෙන් පුතා සුවවේවා කියලා. අම්මා ඔළුව අතගෑවා, මගේ සාම කුමාරයා උපතින්ම බ්‍රහ්මචාරියි, ඒක සත්‍යයයි, සත්‍යානුභාවයෙන් සුව වේවා කියලා, දරුවා නැගිට්ටා, ඊතලේ අතුරුදහන් වුනා. තුවාලේ එහෙම්මම අතුරුදහන් වෙලා ගිහිල්ලා හම තිබ්බ විදියට හැදුනා. කොහොමද සත්‍යයේ ආනුභාවය. මෛත්‍රියේ ආනුභාවය. ඉතින් ඒ විදියට තමයි. ඊටපස්සෙ ඒ අම්මගෙයි තාත්තගෙයි ඇස් දෙකත් සනීප වුනා. සාම ජාතකය ඔය කෙටියෙන් කිව්වෙ, හරී සොඳුරුයි. පින්වතුනි නිකං ඔය නවකතා, පත්තර කියව කියව ඉන්න වෙලාවෙ කියවන්නකො ජාතක කතාවක්. අපි සරණ ගිය ශාස්තෘන් වහන්සේගේ මුළු ජීවිත කතා, කතා පන්සිය හතලිස් අටයිනෙ තියෙන්නෙ. එක දවසට එක කතාවක් කියෙව්වත් අවුරුද්දක් දෙකක් යනකොට කතා ටික කියවලානෙ. එහෙම නෑ, සාමාන්‍යයෙන් ජාතක කතා ඔක්කෝම ටික කියවන්න මාසයක්වත් යන්නෑ. පාඩුවේ නිදහසේ කියවන්න. එකදිගට කියවනවානම් සතියක්, දවස් දෙකෙන්

තුනෙන් කියෙව්වැහැකි. මේ මිනිස්සු කියවන නවකතා, පත්තර. අම්මෝ මම මේ ළඟදින් අර පොත් ප්‍රදර්ශනේට ගියා, ප්‍රදර්ශනේ තියෙන කාලෙ. බැලුවා බැලුවා මං ඉතින් දහම් පොත් ටිකක් හොයන්න ගියෙ. ඉතින් බැලුවා හැමතැනම නවකතා. නවකතා, කෙටිකතා, ඉතිහාස කතා, විදේශ කතා, මෙහෙ තියෙන නවකතා මදිවට පිටරට ඒවත් පරිවර්තනය කරලා, ඒවත් තියෙනවා. සිංහල ඒවා මදිවට ඉංග්‍රීසියෙනුත් තියෙනවා. ඒවත් ගන්නවා. ඉතින් අනේ මේ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් විදියට බුද්ධං සරණං ගච්ඡාමි කියලා සරණ ගිය එකෙක් මේ බුදුරජාණන් වහන්සේගේ ජීවිත කතා ටිකවත් කියවලා තියෙන්නකො. ගමේ හිටියොත්, නැත්නම් ඔයාලගේ ඔෆිස් එකේ ඉන්නවා නම් සීයක් දෙසීයක් ඔක්කෝගෙම චරිත කතා ටික දන්නවා. එහෙම එකේ බුදුරජාණන් වහන්සේගේ බෝසත් කතා ටික කියවන්නකො. පුදුම පැහැදීමක් ඇතිවෙනවා. ජීවිතේ වෙනස් වෙනවා. ලස්සන වෙනවා. හොඳ හිතක් හැදෙනවා. සරණ යනවා. මේ පඬරැල් වගේ නැතිව බුදුරජාණන් වහන්සේ ගැන හිතේ හොඳ පැහැදීමක් පිහිටනවා. ඊටපස්සෙ පින්වතුනි දැන් ඔය ඒකරාජ කියලා එක ජාතක කතාවක් තියෙනවා, ඒ රජතුමා හරි දැහැමියි, මෛත්‍රියෙන්මයි ඉන්නෙ තරහා ගන්නෑ. ඉතින් ඇමති කෙනෙක් මේ කට්ටකමට අන්තඃපුරයට ගිහිල්ලා අන්තඃපුර ස්ත්‍රීන් එක්ක වාසය කලා. ඒක අහුවෙලා රජ්ජුරුවො මෙයාව රටින් පිටුවහල් කලා. ඊළඟ රටට ගිහිල්ලා රජ්ජුරුවන්ට කිව්වා අහවල් රටේ රජ්ජුරුවො සැරපරුෂ කෙනෙක් නෙවෙයි, යුද්ධෙට කැමති නෑ, ආක්‍රමණය කරමු කියලා. ආක්‍රමණය කලා. හැබැයි ඉන්නවා දාහක් යෝධයෝ රජතුමාගේ එක අණට ක්‍රියාත්මක වෙන. ඒ යෝධයන් දාහට පුලුවන් කොච්චර සේනාවක් ආවත් මැඩ පවත්වන්න. රජ්ජුරුවෝ කිව්වා එපා, අපි රාජ්‍යය දෙමු. ඊටපස්සෙ ඔක්කෝම ටික අල්ලගෙන අර ආක්‍රමණ රජ්ජුරුවෝ අර පිටුවහල් කරපු ඇමතියාත් එක්ක ඇවිල්ලා මහරජ්ජුරුවෝ, මෛත්‍රියෙන් ඉන්න ඒකරාජ රජ්ජුරුවො අල්ලලා කකුල් දෙකෙන් එල්ලුවා. අන්තඃපුරේ අරගෙන රාජ සිරියහන් ගබඩාවෙ ආක්‍රමණය කරපු රජ්ජුරුවො ආක්‍රමණය කරලා හිටියා රජවෙලා. ඒ කකුල් දෙකෙන් එල්ලලා ඉද්දිදින් මෛත්‍රිය වඩනවා. මෙත් සිත. තරහ නැති සිත. සුවපත් වේවා කියලා හිතන හිත. ඒ මෛත්‍රී ධ්‍යාන ඇතිවෙලා එහෙම්මම රජ්ජුරුවෝ අනිත් පැත්ත හැරිලා ලණු ලිහිලා ආකාශෙ පළඟක් බැඳුනා. රජතුමා මෛත්‍රිය වඩන්න වඩන්න අර ආක්‍රමණය කරපු රජ්ජුරුවන්ගේ ඇඟ දන්න ගත්තා. පිච්චෙනවා. පිච්චෙනවෝ පිච්චෙනවෝ කියලා කෑගැහුවා. ඉතින් අනිත් අය කිව්වා ඔක්කෝම, දැහැමි රජ්ජුරුවන්ට

කරපු අපාරාදෙ ගිහිල්ලා සමාවගන්න කිව්වා. දුවගෙන යනකොට රජ්ජුරුවෝ ආකාශෙ ඉන්නවා. වැඳලා සමාව ගත්තා. ඊටපස්සෙ ඔබ වාගෙ උතුම් රජ කෙනෙකුට හානි කල මේකා කියලා අර ඇමතිතුමාගෙ හිස ගසලා දැවා. ඊටපස්සෙ රජකම දීලා ඒ ආක්‍රමණික රජ්ජුරුවො ගියා. ඊටපස්සෙ ඒකරාජ රජ්ජුරුවෝ තමන්ගේ අමාත්‍යයන්ට රජකම දීලා මේක මට වැඩක් නෑ කියලා තපස් රකින්න ගියා. මෛත්‍රියේම හිටියා. අර චුල්ලධම්මපාල ජාතකයේ බලන්න, අර මාස පහේ දරුවගේ අතපය කපද්දි බලන්න, අතපය කපලා ඒ කැපිලා වැටුනු අත්දෙකයි කකුල් දෙකයි මස්කෑළි ටික බදාගෙන අඬන අම්මාත් මේකගේ අතපය කපපං කියලා නියෝග කරන රතුපාට ඇස් තියෙන තාත්තාත් පොරොව අතේ තියාගෙන ඉන්න වධකයාත් ඔය තුන්දෙනාම පුංචි කුමාරයාට පේනවා. තුන්දෙනාටම එකම මෛත්‍රිය. බෝධිසත්ත්ව කාලෙ එවැනි මෛත්‍රියක් තිබ්බා නම් ලොව්තුරා සම්මා සම්බුදු වුනාට පස්සේ රාහුල කුමාරයාට තියෙන මෛත්‍රිය දේවදත්තට ඒ විදියටම තියෙනවා කියලා කියන එක ආශ්චර්‍යයක් නෙවෙයි, අද්භූතයක් නෙවෙයි. මහා කාරුණිකයන් වහන්සේ, අනන්ත මෙත් සිත ඇති බුදුරජාණන් වහන්සේ, නාලාගිරි හස්ති රාජයා පැමිණෙනකොට බුදුරජාණන් වහන්සේ මේ සකල ලෝක ධාතුවටම තියෙන මෛත්‍රිය එකම නාලාගිරිට පතුරනකොට පින්වතුනි මහාමේරු පර්වතය අබ ඇටයකට වැටුනා වගේ වුනා කියනවා, එහෙම්මම දණ ගැහුවා කියනවා නාලාගිරි හස්ති රාජයා. දිගු කළ හොඬෙන් බුදුරජාණන් වහන්සේගේ බුදු සිරිපා ඇතුලෙ තියෙන දූවිලි හොඬවැලට අරගෙන මුළු ශරීරයම ඉසවාගත්තා කියනවා. නාලාගිරිට මුළු සංසාරෙම ඒ වාගේ සනීපයක් ඇති වෙලා නෑ. බුදුරජාණන් වහන්සේගේ මෛත්‍රිය කරුණාව, සසරේ පුරුදු කලා මෛත්‍රිය කිසි කෙනෙකුට ළංවිය නොහැකියි. පාරමිතාවක්. ආයෙ මේ තුන් ලෝක ධාතුවේම මහා බෝධිසත්ත්වයො තරම් මෛත්‍රිය පුරුදු කරපු කෙළවරටම පුරුදු කරපු කෙනෙක් නෑ, එච්චර අග්‍රයි. අනේ අපිට කොච්චර තරහා යනවාද මේ ලෝක සත්ත්වයාට. හොස්ස ළඟින් මැස්ස යන්න බැනෙ. අද දවස ඇතුලත කී ගමනක් තරහා යන්න ඇතිද. මේ දවස ඇතුලත, මේ සතිය ඇතුලත කොයිතරම් නම් තරහා යන්න ඇතිද. ඒ නිසා ඒ තරහා දුරු කරගන්න කැමැති නම්, සසරේ තරහා දුරු කරලා මෛත්‍රියම පුරුදු කරපු ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ඇත්තටම පින්වතුනි මේ තිසරණ සරණ යනවා කියන එක, අසිරිමත් දෙයක්. ඒ බුදුන් සරණ යනවා කියන වචනය කියවගන්නනෙ දේවදත්තගෙ අනේකප්‍රකාර දුක්ගැහැට

විඳගෙන බුදුරජාණන් වහන්සේ හිටියේ. දේවදත්ත පොළොව පලාගෙන යනකොට මම දිවි හිමියෙන් බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියාගෙනනෙ ගියෙ. ඒ සරණ යාමේ පින් බලේට අනාගතේ සක්කීශ්වර කියලා පසේ බුදු වෙනවානෙ. ඒක දැකලානෙ බුදුරජාණන් වහන්සේ දේවදත්තගේ ඔක්කොම කෙණෙහිලිකම් ඉවසාගෙන වැඩ හිටියේ. බුදුන් සරණ යනවා දැකලා. එච්චර වැදගත් පින්වත්නි බුදුන් සරණ යනවා කියන එක. ඔබ තරහින් නිදහස් වෙන්න කැමැති නම්, ඔබ තරහ ගන්නැති කෙනෙක් විදියට ඉන්න කැමැති නම් හැම තැනකම දරාගන්න හිතකින්, සුවපත් වේවා කියන හදකින්, සාප නොකරන හිතකින්, අසාධාරණයට සාධාරණය හොය හොයා පීඩා නොවන හිතකින් ඉන්න කැමැති නම්, බුදුරජාණන් වහන්සේ සරණ යන්න. දිවි හිමියෙන් සරණ යන්න. ඇත්තටම මේ බුදුරජාණන් වහන්සේගේ ළඟට ආවට පස්සෙ පුදුම බුදු කරුණාවක් අපේ ජීවිතේට සැලසෙනවා. පුදුම මෛත්‍රියක් අපේ හිතට සැලසෙනවා. මුලු ජීවිතේටම ලොකු අඩුවක් පිරුණා වගේ දැනෙනවා. ඒ බුදුසරණ එහෙම එකක්. ඒ සුන්දරත්වය දකින්න පින්වත්නි. ඒ නිසා මෛත්‍රිය පාරමිතාවක් විදියට පුරපු මගේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ දිවිහිමියෙන් මමත් සරණ යනවා කියලා හිතට අධිෂ්ඨාන සලසාගන්න. බුදුරජාණන් වහන්සේ පිරූ අනන්ත මෛත්‍රී පාරමිතාවේ අනුහසින් ඔබගේත් හදවතේ ගිනි නිවේවා. මෙත් සිසිලෙන් සිසිල් වේවා. ඔබගේ ජීවිතේට අසිරිමත් සම්බුදු සරණ සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් පින්වත්නි, අද දවසේ උතුම් අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ පර්ත් නුවර පදිංචි පින්වත් උපුල් අබේසේකර මහත්මයා, දීපා අබේසේකර මහත්මිය, සමාධි, ගයාත්‍රී සහ චමුදි අබේසේකර යන මහත්ම මහත්මීන් එකතුවෙලා. අපි පළමුවෙන්ම සෙත් ප්‍රාර්ථනා කරමු බුදුරජාණන් වහන්සේගේ අනන්ත අධිෂ්ඨාන පාරමිතාවේ අනුහසින්, මෛත්‍රී පාරමිතාවේ අනුහසින් අපේ ලොව්තුරා බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුන තේජානුභාවයෙන්, බුදුරජාණන් වහන්සේගේ බුද්ධානුභාවයෙන්, මේ රටටත් ලෝකයටත් ව්‍යසනයක් වුනු කොරෝනා වසංගතය දුරින්ම දුරු වෙලා, රෝගීන් සුවපත් වෙලා, මේ අපේ මව්රට ඒ වගේම ලෝකය සුරැකේවා. මනුස්ස වර්ගයාට සියලු යහපත රැකවරණය සැලසේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වගේම පින් කැමැති සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා, දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වෙත්වා. පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වන දෙවියෝ මේ පින්වතුන් දැහැමින්

රැකගනිත්වා. ලක්දෙරණත්, මේ මනුස්ස වර්ගයාත් ආරක්ෂා කරත්වා කියලා දෙවිවරුන්ට පින් දෙනවා. මීට වසර එකකට පෙර මියපරලොව ගිය චිත්‍රා අබේසේකර මැණියන්ටත්, මීට වසර විසිඅටකට පෙර මියගිය උපාලි අබේසේකර පියාණන්ටත්, මීට වසර දෙකහමාරකට පෙර මියගිය එම්.කේ. ජයසේකර පියාණන්ටත්, මීට වසර හතකට පෙර මියගිය සෝමා ජයසේකර මැණියන්ටත් මේ පින් අනුමෝදන් වේවා. මියපරලොව ගිය සියලු ඥාතීන්ට පරලොව සැපය වේවා කියලා මේ පින් අනුමෝදන් කරනවා. පරමපූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. සියලුම සඟරුවනටත්, සිල්මැණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් සියලු දෙනාට උතුම් චතුරාර්ය සත්‍යය ධර්මයම අවබෝධ වේවා. ඒ වාගේම රවී අබේසේකර මහත්මයා, වරුණ අබේසේකර මහත්මයා, වෛද්‍ය චන්දන අබේසේකර මහත්මයා, අනෝමාලි අබේසේකර මහත්මිය, මනෝහාරී අබේසේකර මහත්මිය, ශ්‍යාමලී අබේසේකර මහත්මිය, අජන්තා අබේසේකර මහත්මිය සහ අශෝකා අබේසේකර යන සහෝදර සහෝදරියන් සියලුම දෙනා නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, මේ පින් බලයෙන්. ඒ වගේම ඔස්ට්‍රේලියාවේ පර්ත් වල පදිංචි උපුල් අබේසේකර, දීපා අබේසේකර, ඒ වගේම සමාධි, ගයාත්‍රි සහ චමුදි අබේසේකර යන මහත්ම මහත්මීන් සියලු දෙනාට අද මේ කරගත්ත අනන්ත අප්‍රමාණ පුණ්‍ය විපාකයක් ඇති ධර්ම දානිසංස පින් බලයෙන් ධර්ම දායකත්ව පින් බලයෙන් ඔබ සියලු දෙනාට ගෞතම බුද්ධ ශාසනයේ අධිෂ්ටානය ඔබගේ සිත තුළ ගුණධර්මයක් විදියට වැඩේවා. මෛත්‍රී සිත ඔබේ සිත තුළ වැඩේවා. උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න ඔබට මේ රැස් කල පින හේතු වාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම අපගේ මව් දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන්ටත්, ගුරුවරුන්ටත්, ඥාතීන්ටත් ලොකු කුඩා සියලු දෙනාට පින් අනුමෝදන් වේවා. උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න සසර දුකින් නිදහස් වෙන්න, අධිෂ්ටානය පාරමිතාවක් සේ පිරූ පරතෙරටම පිරූ, ඒ වගේම මෛත්‍රිය පරතෙරටම පිරූ, මෛත්‍රී ගුණයෙන් සෝබමානව, කතා කරන වචනයක් තුළ, බලන බැල්මක් තුළ, සිතන සිතුවිල්ලක් තුළ, මෛත්‍රීයම පැතිරී තිබෙන බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණේ සැනසී දුකින් නිදහස් වෙන්න ඔබට වාසනාව උදාවේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=dQtYV8K_Qg8&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=14

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන බුදුරජාණන් වහන්සේගේ උතුම් තෙමඟුල සිද්ධ වුන වෙසක් මහේ, ඔබ බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ ඉගෙන ගන්න ඔබට වාසනාව ලැබෙනවා. අපි පසුගිය කාලයේ බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙන්න සසරේ රැස් කරන පුණ්‍යස්කන්ධය ගැන තමයි කතා කරමින් හිටියේ. ඉතින් අදත් ඒ උතුම් ධර්මය ශ්‍රවණය කරන්නට ඔබට ලක්විරු ගුවන්විදුලියෙන්, ශ්‍රද්ධා රූපවාහිනියෙන් විකාශන දායකත්වය දරන්නේ, අංක 53, ඉද්දමලියගොඩ, මැණික්හින්න ලිපිනයේ පදිංචි පින්වත් ගාමිණී අබේරත්න මහත්මයා විසින්. මියපරලොව ගිය ඥාතීන්ට පින් පිණිසත්, ඒ වගේම කටාර් වල සිටින ඒ ගාමිණී අබේරත්න මහත්මයාට, ඒ බිරිඳට, දරුවන් සියලු දෙනාට නිදුක් නිරෝගී යහපත පිණිස දරුවන්ගේ ඉදිරි දියුණුව පිණිස පින් අනුමෝදන් කරන්නටත් බලාපොරොත්තු වෙනවා අද ධර්ම දානයෙන්. ඉතින් පින්වතුනි අපිට ඉතාමත් කලාතුරකින් තමයි බුදුරජාණන් වහන්සේ නමකගේ මේ ධර්මය අහන්න ලැබෙන්නෙ. බුදුරජාණන් වහන්සේ නමක් දුර්ලභයි වගේම ධර්මය ඇහෙනවා කියන එකත් දුර්ලභයි. ඇහෙන ධර්මය තේරුම් ගන්න එකත් දුර්ලභයි. ඒ ධර්මය අවබෝධ කරගන්න එකත් දුර්ලභයි. ඉතින් දුර්ලභ සම්පත්තියක් අපිට

ලැබුනාට පස්සෙ අපි ඒ ගැන නිතර කල්පනා කරන්න ඕන, දුර්ලභ බව තේරුම් ගන්න ඕන. ඉතින් කෙසේ නමුත් අපි සරණ ගිය අපේ බුදුරජාණන් වහන්සේ අනන්ත අප්‍රමාණ ගුණ සමුදායකින් යුක්තයි. ඒ බුදුරජාණන් වහන්සේ දීපංකර පාද මූලයේ විවරණ ගත්දා පටන්, වජිරාසන භූමිය දක්වාම ඒ ගත කරපු සංසාර ජීවිතය බුදුරජාණන් වහන්සේගේ පිනෙන් පිරී යන විදියටම තමයි සැකසුනේ. දස පාරමිතා ධර්මයන් පූරණයට පත්කරන්නට, අනේකවිධ උත්සාහයක්, ඒ වගේම අපිරිමිත කැප කිරීමක්, අධිෂ්ටානයක්, වීර්යයක් උන්වහන්සේ තුළ තිබුනා. මේ වෙනකොට අපි දාන, සීල, නෙක්ඛම්ම, පඤ්ඤා, වීර්යය, ඛන්ති, සත්‍ය, අධිෂ්ටාන, මෛත්‍රී කියන දස පාරමිතාවලින් නවයක් ඉගෙන ගත්තා. අපිට ඉගෙන ගන්න තියෙන්නෙ උපෙක්ෂා පාරමිතාව. උපේක්ෂා පාරමිතාව කියන එක, උපෙක්ෂාව කියන එක කියන්නෙ මනාප අමනාප අරමුණු දෙකේම සමව සිටින එක. නින්දා අපහාස දෙක ඉදිරියේම සමව සිටින එක. එක අදහසේ එක විදියටම ඉන්නවා. ලාභ අලාභ දෙකේදීම සමව සිටින එක. ඊළඟට මේ විදියට අෂ්ටලෝක ධර්මයේ සමව ඉන්න එක තමයි උපෙක්ෂාව කියලා කියන්නෙ. ඉතින් මහා බෝධිසත්ත්වයෝ මේ උපෙක්ෂාව වැඩුවා පාරමිතාවක් විදියට. පාරමිතාවක් කියන්නෙ, ඒ විදියට සසරේ මනාප අරමුණු ඉදිරියේයි, අමනාප අරමුණු ඉදිරියේදියි දෙකේදිම එක විදියට, අටලෝ දහමින් කම්පා වෙන්නැතිව එක විදියට ඉදලා පින් රැස් කරපු, කුසල් රැස් කරපු තවත් කෙනෙක් නෑ. මහා බෝධි සත්ත්වයෝ තරම්. ඒ තරම් සම සිතක්, උපෙක්ෂා සිතක් පවත්වන්න වෙන කිසිකෙනෙකුට නොහැකියි ඒ තාක්. ඒ නිසාම ඒ උපෙක්ෂාව පාරමිතාවක් බවට පත්වුනා. සෑම බුදුරජාණන් වහන්සේ නමක්ම ලොව්තුරා සම්බුදු වෙන්න මේ උපෙක්ෂා පාරමිතාව පුරනවා. එතකොට දැන් ඔබ බලන්න ඔබගේ ජීවිතයේ ලාභ අලාභ, යස අයස, නින්දා ප්‍රශංසා, සැපදුක දෙක ඉදිරියේම එක විදියට ඔබට ඉන්න ලැබිච්ච ඒවා මේ ජීවිතේ ඔබට අවස්ථා කීයක් ලැබුනාද. ලෝකයේ ගොඩාක් දෙනා ලාභයේදී සතුටු වෙනවා, අලාභයේදී දුක් වෙනවා. ලෝකයේ ගොඩක් අය නින්දාවේදි දුක් වෙනවා, ප්‍රශංසාවේදී උද්දාමයට පත්වෙනවා. ඊටපස්සෙ තමන් පිරිවරාගෙන ඉන්නකොට හරියට ආඩම්බර වෙනවා, පිරිස තමාව දාලා ගිහිල්ලා තමන් තනිවෙනකොට හූල්ල හූල්ල ඉන්නවා. මේක තමයි ලෝකයේ ස්වභාවය. උපෙක්ෂාවක් මනුස්සයින්ගේ හිතේ නෑ. තමන්ගේ ළමයි වුනත් හොඳට ඉගෙන ගන්නකොට සතුටුයි, ඉගෙන ගන්න එක නැතිවුනාට පස්සෙ දුකයි. ළමයි සම්බන්ධයෙනුත් උපෙක්ෂාව අඩුයි. ඉතින් ඒ නිසා මේ විදියට හැම තැනම තියෙනවා උපෙක්ෂාව අඩුයි. ඉතින්

උපේක්ෂාව කියන එක නැති නිසාම තමයි මේ ලෝකයේ මිනිස්සුන්ට මෙච්චර දුක් කම්කටොළු එන්නෙ. මොකද තමන් සැප සම්පත් විඳලා ඒ සැප සම්පත් නැතිවුනාට පස්සෙ හුල්ල හූල්ලා නැවත ඒ සැප සම්පත් උපද්දවගන්න කොච්චර නම් දුකක් විඳිනවාද. ඒවා හැම එකක්ම දරාගෙන සම සිතින් වාසය කරන්න නොහැකිවීම නිසා, ඒ නිසා උපෙක්ෂා සහගත සිතක් කැමැති කෙනෙක් ඉන්නවා නම් එයා බුදුරජාණන් වහන්සේ සරණ යන්න ඕන. මොකද අපේ බුදුරජාණන් වහන්සේ උපෙක්ෂාවේ පරතෙරට පත්වුනු නිසා. සෑම පාරමිතාවකම උපෙක්ෂාව තියෙනවා. දැන් දානයක් දීමේදී වුනත්, ඒ දානය හරියට කෙරෙන එක, ඊළඟට තමන් හිතන විදියටම දානෙ පූජා කරන්න සිදු වෙන එක, බැරිවෙන එක, ඒ හැම එකක්ම දරාගන්න එපැයි. ඊළඟට අපි දැන් ගත්තොත් එහෙම දැන් අසෙය සිටුතුමා දන් දුන්න විදිය බලනකොට, ඒ සිටුතුමාගේ දානයේ දානඅඩුවැඩි ඔක්කොම ටික සක්දෙවිඳු අතුරුදහන් කලා. එතකොට ඒ දේවියයි, ඒ සිටුතුමයි ගිහිල්ලා තණකොළ කපලා ඒ තණකොළ අරගෙන ඇවිල්ලා ඒවා විකුණලා දාන දෙනවා. එතකොට තියෙනකොටත්, නැතිකොටත් දෙකේදීම දානයම පුරුදු කරනවා. එතකොට එතන යම් උපෙක්ෂාවක් තියෙනවානෙ. එතකොට පැවිදි ජීවිතෙත් කොච්චර උපේක්ෂාවක් ඕනද. එතකොට ක්ෂාන්තිය පතුරුවද්දී, තමන්ගේ අතපය කපද්දි ඉවසලා ඉන්නවා කියන එක, එතකොට කොච්චර උපෙක්ෂාවක් හිතේ ඕනද. ඒ නිසා නෙක්ඛම්මය පුරුදු කරද්දිත්, ක්ෂාන්තිය පුරුදු කරද්දිත් මෛත්‍රිය පුරුදු කරද්දිත් එයාගේ හිතේ ටික ටික උපෙක්ෂාව වැඩෙනවා. උපෙක්ෂාව කියන එක පාරමිතාවක් විදියට එක ජීවිතයක සම්පූර්ණයෙන්ම පුරපු විස්තරත් තියෙනවා. දැන් අපි ගත්තොත් එහෙම මහා ලෝමහංස ජාතකය ගත්තොත් එහෙම ඒ ජාතකයේදි මහා ධනවත් බ්‍රාහ්මණයෙක් අපේ බෝධිසත්ත්වයෝ. ඊටපස්සෙ මහා බෝධිසත්ත්වයන්ට හිතුනා මේ ඔක්කෝම ටික අත්හැරලා මහණ වෙන්න ඕන. ඊටපස්සෙ කල්පනා වුනා මේ ඔක්කෝම අත්හැරලා මහණ වෙච්චි ගමන් ධනවත් පවුලකින් පැවිදි වුනා කියන ආරංචියට ලාභ සත්කාර උපදිනවා හරියට, පිරිස එනවා. ඉස්සර තියෙනවා යම්කිසි ප්‍රසිද්ධ කෙනෙක් පැවිදි වුනොත් එහෙම අනිත් අයත් ඒ පිටිපස්සේම ගිහිල්ලා පැවිදි වෙනවා. එහෙම එකක් ඉස්සර තිබ්බා. එතකොට අද කාලෙ එහෙම නෑනෙ. අද කාලෙ ඉතින් බොහොම කලාතුරකින්නෙ පැවිද්දට කෙනෙක් එන්නෙ. නෙක්ඛම්මයට හිත නැමෙන්නෙ. ඒ කාලෙ දැන් බලන්න මුගපක්ඛ ජාතකය, මුළු රාජධානියක්ම පැවිදි වුනා. මුළු රාජධානියක්ම. මාළිගා

ඔක්කෝම අත්හැරලා. පුදුම සහගත පැවිදි වීම් තියෙනවා. ඊටපස්සෙ ඉස්සර තියෙනවා එක රාජ්‍යයක් ආක්‍රමණය කරන්න ඇවිල්ලා ඊටපස්සෙ ඒ රජ්ජුරුවො පැවිදි වෙන්න ගියා ඔක්කොම දාලා, ඊටපස්සෙ ආක්‍රමණය කරන්න ආපු අය කල්පනා කලා මේචචර මහා ධනස්කන්ධයක් දාලා මහණ වෙන්න ගියා නම් අපි මොකටද මෙහෙම ඉන්නෙ කියලා එයාලත් ගියා. එතකොට අද කාලෙ හිතාගන්නවත් බෑ ඒ වගේ සිද්ධි. ඇයි ඒ හිතාගන්න බැරි ඒ සිද්ධි, අද කාලෙ මිනිස්සුන්ට ඒ වාගේ සිතිවිලි පහළ වෙන්නෙ නැති නිසා. අද කාලෙ නෙක්ඛම්මයට හිත නැඹුරු නැති නිසා අතීතයේ නෙක්ඛම්මය දුරු කරපු අය ගැන හිතාගන්නවත් බෑ, නමුත් ඒ කාලෙ ඇත්තටම සිදුවුනා. මේ හැම එකකම තියෙනවා ගිහි ජීවිතේ පස්කම් සැප විඳිනකොට ඒ ඉදිරියේත් නෙක්ඛම්මයට සමාන හිත පවත්වන්න පුලුවන් විදියට හිත වඩලා තියෙනවා මහා බෝධිසත්ත්වයෝ. ඉතින් මං කියන්න ගියෙ ඒ මහා බෝධිසත්ත්වයෝ වැනි ධනවත් පවුලක ඉපදිලා ඉඳලා බමුණො, කල්පනා කලා මං පැවිදි වුනොත් අනිත් පිරිසත් ගොඩාක් පිරිසක් මා අනුව පැවිදි වෙලා මට මගේ  අරමුණ ඉෂ්ට කරගන්න බැරිවෙයි. ඒ නිසා මං හුදෙකලා වෙන්න ඕන කියලා පැවිදි වෙන්නැතිව ඒ ගෙදර හිටපු ඇඳුම පිටින්ම එළියට ගිහිල්ලා පැන් කෙණ්ඩියක් අරගෙන ඔහෝම යන්න ගත්තා. සාමාන්‍යයෙන් දුප්පත් ඇඳුමක් ඇඳගෙන. එයා තපස විදියට සමාදන් වුනේ යම්කිසි කෙනෙක් මට බැන්නත්, යම්කිසි කෙනෙක් මට නින්දා කලත්, යම්කිසි කෙනෙක් මට ප්‍රශංසා කලත්, ලාභ සත්කාර දුන්නත්, ඒ සියලු දෙනාටම එක හිතක් පවත්වනවා කියලා උපෙක්ෂාව සමාදන් වුනා. ඉතින් මෙහෙම යනකොට මිනිස්සු මෙයාට එක එක ඒවා කියනවා මෙයා නිහඬව යනවා. මෙහෙම යනකොට මහා තාපසයෙක් කියලා මිනිස්සු සත්කාර සම්මාන කරනවා. ඒත්  යනවා. දෙකේම එක හිත. ඊටපස්සෙ මෙහෙම ඈතට ඈතට යනකොට එක්තරා ගම්මානයක් තිබ්බා මේ ගම්මානයේ ඉන්නවා හරී දඩබ්බර නොසණ්ඩාල කොල්ලො ටිකක්. මුන්ගේ වැඩේම පාරේ යනවානම් වයසක මිනිස්සු ඒ වයසක මිනිස්සුන්ට අඩන්තේට්ටම් කිරීම. ඊටපස්සෙ වයසක මිනිස්සුන්ගේ ඇඟට අනිනවා. ඊටපස්සෙ වැලිවලින් ගහනවා. හිනාවෙනවා. උසුළු විසුළු කරනවා. ඉතින් අර තාපසයාත් ගමින් ගමට යනකොට ඔය ගමට ආවා. ඔය ගමේ මිනිස්සු අර ළමයි, කොල්ලො කුරුට්ටො වයසක අයට, තාපසයින් වහන්සේලාට එක එක කෙළිකවටකම් කරද්දි ඒක දකිනකොටම මහා බෝධිසත්ත්වයන්ට හිතුනා මට දැන් උපේක්ෂාව පුරුදු කරන්න හොඳ තැනක් මේ. ඒ නිසා මං උපේක්ෂාව පුරුදු කරගන්න ඕන කියලා

මහා බෝධිසත්ත්වයෝ ඒ ගම හරහාම වැඩියා. වඩිනකොට අර විදියටම ළමයි ඔච්චම් කරනවා, මහා බෝධිසත්ත්වයෝ නිහඬව ඉන්නවා. මහා බෝධිසත්ත්වයෝ ඔහොම්මම ගිහිල්ලා සොහොනෙ නැවතුනා. සොහොනෙ තියෙන මිනී කටු එකතු කරලා ඒ මිනී හිස් කබල් ඔළුවෙ තියාගෙන එහෙම්මම සැතපුනා. ඇයි කිසීම අපේක්ෂාවක් නැනෙ. යක්කු එයිද, නැද්ද, ලෙඩ වෙයිද, නැද්ද ඒවා මොනවත් හිතේ හැඟීමක් නෑ, එක සම හිතක් හිතේ තියාගෙන ඉන්නවා. සීතල වෙයිද, නැද්ද, ලෙඩ වෙයිද නැද්ද, එහෙම මොකුත් නෑ හිතේ. තියෙන්නෙ සම හිතක් පවත්වගෙන යනවා. ඊටපස්සෙ ඔන්න අර පහුවදා උදේ අර කොල්ලො ටික ඇවිල්ලා කෝටු අරගෙන කණට අනිනවා, ඊළඟට ඇඟට අනිනවා, පයින් ගහනවා, ශරීරයට මුත්‍රා කරනවා. මේ විදියට අනේකවිධ අඩන්තේට්ටම් කරන්න ගත්තා. එහෙම කරදර කරනකොට ඒ හැමවෙලාවකම හිතේ කිසිම තරහක් අරගන්නැතිව සමහිතක්ම පැවැත්වුවා. උපේක්ෂාව. එතකොට ගමේ මිනිස්සු ඇවිල්ලා කොල්ලො ටික පන්නලා මේ විදියට ඉවසන්නෙ, මේ සාමාන්‍ය තාපසයෙක් නෙවෙයි, උග්‍ර තපස් ඇති තාපසයින් වහන්සේ නමක් කියලා, මහා භවභෝග සම්පත් උපද්දවලා, පූජා සත්කාර කරලා, දාන මාන දුන්නා. එතකොට මහා බෝධිසත්ත්වයන්ට අර ඇඟට ඇනපු කොල්ලො කුරුට්ටො කෙරෙහිත්, අර ඇඟට ඇනපු. ඇඟට චූ කරපු අර පුංචි ළමයි කෙරෙහිත් ඊළඟට ජරාව ඇඟට දාපු වැලිවලින් ගහපු ඒ ළමයි කෙරෙහිත් මේ දාන මාන ගෙනල්ලා දෙන මිනිස්සු කෙරෙහිත් සමහිතක්ම තිබුනා. ඔය විදියට ඒ මුලු කාලෙම ඒ සම හිත වඩ වඩා ඉදලා තියෙනවා, ලෝමහංස ජාතකයේ. එතකොට ඔය විදියටම උපේක්ෂාව පුරුදු කරලා. එතකොට සාමාන්‍යයෙන් අපේ මහා බෝධිසත්ත්වයෝ සංසාරයේ ඔය විදියට උපේක්ෂාව පුරුදු කරපු ජීවිත ප්‍රමාණය අනන්තයි අප්‍රමාණයි. වැඩිපුරම බෝධිසත්ත්වයෝ මේ උපේක්ෂා පාරමිතාව පුරුදු කරද්දි තමන්ට නින්දා අපහාස එනවානම් ඒ වාගේ තැන්වල තමයි වැඩිපුර ඉදලා තියෙන්නෙ. කෑම බීම අඩුවෙන් ලැබෙන තැන් තියෙනවා නම් ඒ වගේ තැන්වල වැඩිපුර ඉදලා තියෙනවා. මොකද ඒක දරාගැනීමේ ශක්තියත්, හිත වෙනස් වෙන්නැතිව එක විදියට තියාගන්නා වූ ගුණය වැඩීම පිණිසම. එතකොට ඒ නිසා දැන් මහා බෝධිසත්ත්වයෝ ඒක තපසක් විදියට පුරුදු කලා. දැන් අපේ ජීවිත වල ස්වභාවය තමයි අද සමාජයේ, යම් තැනක බනිනවානම් කරදර වැඩි නම් ඉක්මණින් එතනින් යනවා. යම් තැනක ලාභ සත්කාර ලැබෙනවා නම්, තමාව ඉහළින් පිළිගන්නවානම් සත්කාර කරනවා නම් එතන වැඩිපුර රැදෙනවා. ඕකනෙ තියෙන්නෙ. දැන් ඔය

සාමාන්‍යයෙන් ලොකු ලොකු මිනිස්සු තමන්ගේ නම ගම කියලා, ඊළඟට තමන්ව ප්‍රශංසා කරලා එහෙම කරනවා නම් ඒ වාගේ තැන්වලට තමයි ඒ මිනිස්සු යන්නෙ නමත් එක්ක. එතකොට කොහෙහරි අභිංසක තැනකට ගියාට පස්සෙ ඒ අය එයා ගැන වැඩිපුර කතා කරන්නැත්නම්, ඒ වාගේ තැන්වලට එයා සම්බන්ධ වෙන්නෑ. එතකොට බලන්න ලෝකෙ ස්වභාවය. මහ බෝධිසත්ත්වයෝ, අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ සංසාරේ පුරුදු කරද්දි වැඩිපුර නින්දා ලැබෙන තැන්වල වැඩිපුර ඉන්නවා. ලාභ සත්කාර ලැබෙන තැන්වල සිත ඒවගෙන් යට නොවී ඉඳලා ඒ තැන් මගහැරලා යනවා. පුදුම සහගතයි, ඒ නිර්වාණ මාර්ගයේ ලාභ සත්කාර මාර්ගයයි කියන්නෙ මාර්ග දෙකක්. ලාභ සත්කාර ලැබෙනවා කියන එක එක පැත්තක්. නිවන් මාර්ගය කියන්නෙ එක පැත්තක්. පැති දෙකක් මේක. කවුරුහරු ඒ නිසා ලාභ සත්කාර කීර්ති ප්‍රශංසා හොයාගෙන යනවා නම් එයා ඒ පාරෙ යනවා. හැබැයි නිවන හාත්පසින් වෙනස් පැත්තක තියෙන්නෙ. එතකොට ලාභ සත්කාර හොයාගෙන යනවා කියන එකේ අර්ථයම එයා නිවනට අත්හැරියා කියන එකමයි. ඒ නිසයි බුදුරජාණන් වහන්සේ නිරන්තරයෙන්ම ලාභ සත්කාර කීර්ති ප්‍රශංසාවලට ගරහන්නෙ. ඒවලට යටවෙන්න එපා කියලා කියන්නෙ. ඉතින් ඒ නිසා පින්වතුනි ඒ කරුණු කාරණා තේරුම් ගන්න ඕන. දැන් ඊළඟට තව මං විස්තරයක් කියන්නම්. අතීතයේ වෙච්චි, කපි ජාතකයේ, අතීතයේ වෙච්ච සිද්ධියක්. ඒ තමයි වැද්දෙක් ඇවිල්ලා මුවෝ මරන්න, ඒ මුවන් සොයාගෙන යද්දි කකුල පටලැවිලා වැටිලා මහා ප්‍රපාතයකින් උඩ ඉඳලා වේගයෙන් වැටිලා වැරණියක වැල් තියෙන ගොල්ලක රැඳුනා. ඊටපස්සෙ ඒ දවස්වල අපේ මහා බෝධිසත්තවයෝ මහා වානරයෙක්. විශාල ශරීරයක් තියෙන, සවිශක්තිය තියෙන වානරයෙක්. මේ වානරයාට දුටුවා අර වැල් ගොල්ලෙ එල්ලිලා ඉන්න අර උඩින් වැටිච්ච වැද්දා. ඊටපස්සෙ කොහොමහරි මෙයා අමාරුවෙන් ගිහිල්ලා, වානරයා, අර මනුස්සයා අතින් ඇදගෙන ඇවිල්ලා උස්සගෙන ඇවිල්ලා මහන්සියි දැන්. වළකින් ගොඩගත්තා වගේ. උඩට ඇදගෙන ඇවිල්ලා මහන්සියෙන් මනුස්සයාට විවේකයෙන් ඉන්න දීලා ඒ මනුස්සයාට පොඩ්ඩක් අවට බලාගන්න මට හරී අමාරුයි - ඇයි වඳුරෙක්නේ දැන් මෙයාව උස්සලා ගත්තේ - කියලා වෙහෙසට අර මනුස්සයාගෙම ඔඩොක්කුවේ ඔලුව තියාගෙන එහෙමම හාන්සි වුනා වඳුරා අර මහන්සියට. ඊටපස්සෙ අර මනුස්සයා කල්පනා කරනවා, දැන් වඳුරා ඔඩොක්කුවේ නිදිනේ. මං මුව දඩයමේ ආවෙ, මට මුවෙක් අල්ලගන්න බැරිවෙච්චි නිසා වඳුරු මසුත් හොඳයි කියලා, හිමීට ළඟ

තිබ්බ ගලක් අරන් ගැහුවනෙ ඔළුවට. අර තමාව බේරගත්ත වඳුරට. එතකොට ඒ මනුස්සයා අර වළේ ඉඳලා වැටිලා වෙහෙස වෙලානෙ හිටියෙ. ඒ නිසා මනුස්සයාට ලොකු ගැම්මක් ගන්න බැරිවුනා, අර ගල උස්සලා ගහනකොට. හිමීට වැදුනේ. ඔලුව පිපිරුවා වඳුරාගේ. ඉක්මණට වඳුරා පැන්නා. පැනලා උඩ ගහක ගිහිල්ලා කිව්වා, අසත්පුරුෂය, දැක්කද ඇහුවා, අසත්පුරුෂයා තමාට පිහිට වෙච්චි කෙනා ගැන උඹට කාරුණිකව හිතන්න බැරිවුනා. ඒත් මනුස්සය නුඹට දැන් මේ තියෙන හැටියට මේ වනාන්තරයේ මේ ආපු දුරත් එක්ක බලනකොට උඹට පාරවත් හොයාගන්න බෑ කිව්වා. ඒ නිසා උඹ මං එන පාරෙ වරෙං, මං උඹට මිනිස්සු පැත්තට යන පාර කියලා දෙන්නම් කියලා, ඒ වඳුරා අත්තෙන් අත්තට පනිනවා, ඔලුවෙන් වැගිරෙන ලේ පොළොවේ හිටිනවා පාර මෙහෙම. එතකොට ඒ ලේ වැටෙන පාර දිගේ ගිහිල්ලා තමයි ඒ මනුස්සයා මිනිස් පියස හොයාගත්තෙ, මිනිස්සු ඉන්න තැන. ඊටපස්සෙ ඒ මිනිස් පියසට ගිහින් දාලා ආපහු වඳුරා ආවා. තමාව මරන්න ඔළුවට ගලකින් ගහපු මනුස්සයාට ඒ මනුස්සයාට හානියක් වෙන්න දෙන්නැතිව මනුස්ස පියසට යැව්වා. මහා බෝධි සත්ත්වයෝ ඔය විදියට මෛත්‍රී කරුණාව පෙරදැරිව උපෙක්ෂාව මුල් කරගෙන පාරමී ගුණධර්ම වැඩුවා අසංඛෙය්‍ය අප්‍රමාණ ජීවිත ගණනක්. එක ජීවිතයක් දෙකක් නෙවෙයි, අසංඛෙය්‍ය අප්‍රමාණ වාරයක් ජීවිතේ ගුණධර්ම වඩලා තියෙනවා. මේ ඔක්කෝම සිද්ධ වුනේ ලොව්තුරා සම්මා සම්බුදු බව ප්‍රාර්ථනා කරමින්. ඊළඟට දැන් අපි දන්න වෙස්සන්තර ජාතකයම බලන්න. වෙස්සන්තර ජාතකයේ උපෙක්ෂාව කියන්නෙ තමන්ම දානෙ දුන්නු මිනිස්සු තමන්ටම විරසක වෙලා ඉද්දින් ඒ මිනිස්සුන්ටම පහුවදා දානෙත් දෙනවානෙ. කොච්චර උපේක්ෂාවක්ද කියලා බලන්න. මේ උපේක්ෂාව කියන එක මෛත්‍රී කරුණා ඒ ඔක්කෝමත් එක්ක මුසු වෙලා තියෙන්නෙ. ඊටපස්සෙ මොකද වුනේ. ඒ මෛත්‍රී කරුණා ආදියත් එක්ක මුසු වෙලා තියෙන උපෙක්ෂාව නිසා තමයි තමන්ගේ මන්ත්‍රී දේවියටත්, දරුවන් දෙදෙනාටත් රටවැසියන්ටත් එකම හිතක් පැවැත්වූවා වෙස්සන්තර රජ්ජුරුවො. ඊළඟට තමන්ගෙන් ඇලි ඇතා ඉල්ලගෙන ආපු මිනිස්සු ගැනත්, දරුවො දෙන්නා ඉල්ලගෙන ආපු ජූජක බමුණා ගැනත්, ඒ වගේම බිරිඳ ඉල්ලගෙන ආපු බ්‍රාහ්මණයා ගැනත්, ඒ ඔක්කෝටම එකම හිතක් පවත්වනවා වෙස්සන්තර රජ්ජුරුවෝ. දැන් මේ දරුවො දෙන්නා ඉල්ලගෙන ආව ජූජක බමුණා මහ නාකි, දහ අටක් අවමංගල ලක්ෂණ තියෙන, ඒ කියන්නේ ඒ මනුස්සයා සාමාන්‍යයෙන් මනුස්ස පෙරේතයෙක් වාගේ ඒ ජූජක බමුණා. ඇලි ඇතා ඉල්ලාගෙන ආවෙ රජතුමාගෙ

රාජ දූත වූ බ්‍රාහ්මණයො. ඊළඟට මන්ත්‍රී දේවිය ඉල්ලගෙන ආවෙ වෙස් මාරුකරගත්තු සක්දෙවිඳු. ඔය තුන්දෙනාටම එක විදියට, ඔය තුන්ගොල්ලටම එක විදියට දානෙ දුන්නෙ. ඒකනේ ඒ හිතේ තිබ්බ ස්වභාවය. මේක පුදුම සහගත දෙයක්. ඉතින් ඒ නිසා මහා බෝධිසත්ත්වයෝ සංසාරේ පුරුදු කරලා තියෙනවා, තමන්ට මිනිස්සු ගුණ කියද්දි හිතලා තියෙනවා - මේක ලස්සන දෙයක් මේ හිතපු ක්‍රමය - ඒ තමයි තමන්ගේ ගුණ කියද්දි අනිත් අය, මහා බෝධිසත්ත්වයෝ හිතලා තියෙනවා මේ ලෝකයේ අන් අයගේ ගුණ කියන අය ඉන්නවා. ඊටපස්සෙ තමන්ට බණින අය ඉද්දින් මහා බෝධිසත්ත්වයෝ හිතලා තියෙනවා, මේ ලෝකයේ අන් අයට බණින අය ඉන්නවා. එතකොට ඒක ලෝක ස්වභාවයක් විදියට තමයි තේරුම් ගත්තෙ. ඊළඟට මහා බෝධිසත්ත්වයෝ හිතලා තියෙනවා සැප එද්දින් මේ ලෝකෙ සැපක් ලැබෙනවා කියලා එකක් තියෙනවා. දුක එද්දින් හිතලා තියෙනවා, මේ ලෝක දුකක් ලැබෙනවා කියලා එකක් තියෙනවා. එතකොට ඒ ඔක්කොම ලෝක ස්වභාවයක් විදියට බැලුවෙ. ඊළඟට පිරිස පිරවරා ගන්න හැටිත් තියෙනවා. එතකොට හිතලා තියෙනවා මේ ලෝකෙ යසස කියලා එකක් තියෙනවා, ඒ කියන්නෙ පිරිස් පිරිවරා ගන්න කාල තියෙනවා, ඒවාගේ ස්වභාවයක් ලෝකෙ තියෙනවා. ඊටපස්සෙ පිරිස තමාව දාලා යනවා. එතකොට අයස කියලා එකක් ලෝකෙ තියෙනවා. මේ විදියට ඊළඟට තමන්ට ලැබෙන කාල තියෙනවා. එතකොට ලැබෙන කාල තියෙනවා කියලා හිතනවා. නොලැබෙන කාල තියෙනවා. එහෙම එකක් ලෝකෙ තියෙනවා. එතකොට අෂ්ට ලෝක ධර්මයක් විදියටම ජීවිතයේ මේ එන බාධක කම්කටොළු සියල්ලම දුටුවා. කරත්ත රෝදයක් කරකැවෙනකොට ඒ කරත්ත රෝදයෙන් නිම් වළල්ල තමයි පොළොවේ ස්පර්ශ වෙවී යන්නෙ. ඔය නිම් වළල්ලේ කොස් අටක් තියෙනවා. ලාභ අලාභ යස අයස නින්දා ප්‍රශංසා සැප දුක. මේ ලෝකෙ කිසිම දෙයක් නිත්‍ය නෑ, ඒකාන්ත දුකක් විඳිමින් ඉන්න කෙනෙකුත් නෑ, ඒකාන්ත සැපක් විඳිමින් ඉන්න කෙනෙකුත් නෑ. මේ ඔක්කොම වෙනස් වෙවී තමයි යන්නෙ. එතකොට අපිටත් පුලුවන් වුනොත් ඒ කල්පනාව, මහා බෝධිසත්ත්වයෝ හිතපු ක්‍රම තේරුම් ගන්න, හිතන්න අපේ හිතත් ටික ටික උපෙක්ෂාවට පත්වෙනවා. දැන් බලන්න ඒ හිතන ක්‍රමය අල්ලගන්නටත් අපිට ධර්මයමට එන්න එපායැ. බුදුරජාණන් වහන්සේම සරණ යන්න එපායැ. ඉතින් ඒ නිසා අපි මේවා තේරුම් ගන්න ඕන. බුදුරජාණන් වහන්සේගේ සරණට එන්නැතිව හිත හදාගන්නවත් බෑ පින්වත්නි. දැන් මේ ලෝකෙ අෂ්ට ලෝක ධර්මයක් තියෙනවාය, ඊට අනුව ලෝකය පෙරලෙනවාය, ලෝකෙට අනුව අෂ්ට

ලෝක ධර්මය පෙරළෙනවාය කියලා වෙන කොහෙද තියෙන්නෙ. වෙන මොන දහමෙද මේ අෂ්ට ලෝක ධර්මය ගැන උගන්වන්නෙ. දැන් ඇමරිකාව හිතුවද, ඔච්චර ඇමරිකාව අසරණ වෙයි කියලා. එතකොට මේ ලෝකයේ මිනිස්සු හිතුවාද, මෙච්චර දියුණු තාක්ෂණයක් මෙච්චර දියුණු ලෝකයක් තියෙද්දි ආර්ථිකේ, මුලු ලෝකෙම ආර්ථිකය එකපාර මෙහෙමම කඩාගෙන වැටෙයි කියලා හිතුවද. ඊළඟට මුලු ලෝකයේ සියලු දෙනාටම එකම ලෙඩක් පැතිරිලා යයි කියලා මිනිස්සු හිතුවාද. මුලු ලෝකෙම මරණ බයෙන්, එකම කාලයේ මරණ බයෙන් බය වෙයි කියලා හිතුවාද. හිතපු නැති දේවල් වලටම මිනිස්සුන්ට මුහුණ දෙන්න සිදුවුනා. පින්වතුනි ලෝකයේ මෙවැනි ස්වභාවයක් තියෙනවා. එතකොට මේ අෂ්ට ලෝක ධර්මයට මුහුණ දෙන්න ඕන. එතකොට අෂ්ට ලෝක ධර්මයට මුහුණදීලා උපේක්ෂාව හිතේ හදාගන්නවා කියන එක සුලු දෙයක් නෙවෙයි. සාමාන්‍යයෙන් අපි කියමු, සාමාන්‍ය කෙනෙක් මෛත්‍රීයෙන් හිත එකඟ කරලා, මෛත්‍රී භාවනාව දියුණු කරලා බ්‍රහ්ම ලෝකෙ ඉපදුනොත් කල්පයක් සැප විඳිනවා. කරුණා භාවනාව හිත දියුණු කරලා බ්‍රහ්ම ලෝකෙ ඉපදුනොත් කල්ප දෙකක් සැප විඳිනවා. ඊළඟට මුදිතාවෙ හිත දියුණු කරලා බ්‍රහ්ම ලෝකෙ ඉපදුනොත් කල්ප හතරක් සැප විඳිනවා. උපෙක්ෂාව වඩලා බ්‍රහ්ම ලෝකෙ ඉපදුනොත් කල්ප පන්සීයක් සැප විඳිනවා. කල්ප පන්සීයක්. එතකොට උපෙක්ෂාවක තියෙන බලය කොච්චරද. උපෙක්ෂාවක්, හිත මධ්‍යස්ථ කරගන්න එකේ බලය කොච්චරද. හොඳ නරක, යහපත අයහපත, ලාභ අලාභ, නින්දා ප්‍රශංසා ඉදිරියේ එක විදියට හිත පවත්වන එක. මේ ලෝක සත්ත්වයාට බැරිම ඒකනෙ. ඒක එච්චර උත්තරීතරයි. යම්කිසි කෙනෙක් මේ උපෙක්ෂාව කියන එක පුරුදු වුනොත්, දැන් සමහර දෙමව්පියො හරී ආසයිනෙ දරුවන්ට උගන්වන්න. දරුවන් යහමගට ගන්න. ඉතින් උත්සාහ කරනවා. එතකොට දරුවෝ ඉගෙන ගන්නකොට දෙමව්පියො උද්දාමයට පත්වෙනවා. දරුවෝ පිරිහෙනකොට දුකට පත්වෙනවා. මේවගේ දෙයක් ලෝකෙ ස්වභාවයක් තියෙනවා කියලා දෙමව්පියන්ට පුලුවන් වුනොත් හිත මධ්‍යස්ථ කරගන්න, ඒ දෙමව්පියන්ට ඒ උපේක්ෂාව බොහෝ කාලයක් ඒ දෙමව්පියන්ට හිත සුව පිණිස පවතිනවා. ඊටපස්සෙ යම්කිසි ස්වාමියෙක් වුනත් බිරිඳගේ ආදරය ඉදිරියේ, බිරිඳගේ සැරපරුෂකම් ඉදිරියේ සිත මධ්‍යස්ථව පවත්වන්න පුලුවන් වුනොත්, යම්කිසි බිරිඳකට වුනත් ස්වාමියාගේ ආදරය ඉදිරියේ, ස්වාමියාගේ නොමනාකම් ඉදිරියේ සිත මධ්‍යස්ථව පවත්වන්න පුලුවන් වුනොත් ඒ උපේක්ෂාව සුලු නෑ, දරුවන්ට වුනත් දෙමව්පියන්ගේ යහපත

ඉදිරියේ දෙමව්පියන් සැරවැර කරනකොට හිත මධ්‍යස්ථව පැවැත්වූවොත් ඒ හිත උපේක්ෂා සහගතව පවත්වනවා කියන එක මහා බලවත් පුණ්‍ය කර්මයක්. ඉතින් මේ උපේක්ෂාව හොඳට නිවනට උපකාරී වෙන විදියට දියුණු කරගන්න නම් ඒ උපේක්ෂාව පාරමිතාවක් විදියට පුරපු ලොව්තුරා අමාමෑණී සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ යන්න ඕන. බුදුරජාණන් වහන්සේ තමයි උපේක්ෂාව, බුදුරජාණන් වහන්සේගේ බුදු ගුණ වල තියෙනවා, එක අතක් වෑයකින් රහිනවා නම් අනිත් අතේ කවුරුහරි සඳුන් කල්ක තවරනවා නම්, ඒ එක අතක් වෑයකින් රහිද්දිත්, එක අතක සඳුන් කල්ක තවරද්දිත් ඒ දෙගොල්ල කෙරෙහිම එකම මෙත් සිත පවතිනවා බුදුරජාණන් වහන්සේට. ඇයි සංසාරෙ ඒ විදියට තමයි හිත වැඩුවෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ සක්දෙවිඳුගේ සුදහ භෝජනය වළඳපු බුදුරජාණන් වහන්සේම සිඟන්නාගේ ගෙදර ලුණු නැතිව පිට්ටුව වළඳනකොටත්, සුදහ භෝජනය වළඳනකොටත් දෙකේදිම හිත පවත්වන්නෙ එක විදියට. බුදුරජාණන් වහන්සේ පැල් කෙටියට යනකොටත්, බුදුරජාණන් වහන්සේ දිව්‍යලෝකෙ පාණ්ඩුකම්බල ශෛලාසනයට වඩිනකොටත් එක හිතින් වඩින්නෙ. බුදුරජාණන් වහන්සේ වසල ගමේ වසලයන්ගේ වීදියේ වඩිද්දිත්, බුදුරජාණන් වහන්සේ බ්‍රහ්ම ලෝකයේ බ්‍රහ්ම විමාන වල වඩිද්දිත් එක හිතින් වඩින්නෙ. ඇයි ඒ? ඒ උපෙක්ෂාව බුදුරජාණන් වහන්සේ සසරේ පාරමිතාවක් විදියට පුරුදු කරලා එහි උපරිම ප්‍රතිඵලය විදියට ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ සම්බුද්ධ පදවිය ලැබුනෙ. ඒ නිසා මෙවැනි ගුණ තියෙන වෙනත් ශාස්තෘන් වහන්සේලා තුන් ලෝකෙම සිටිනවාද පින්වතුනි. ඒ නිසා මුව පුරා හඬ නගා කියන්න බුද්ධං සරණං ගච්ඡාමී කියලා. ධම්මං සරණං ගච්ඡාමී කියලා. සංඝං සරණං ගච්ඡාමී කියලා. තෙරුවන් වදිනකොට පන්සිල් ගන්නකොට කුටු කුටු ගාන්න එපා. බුද්ධං සරණං ගච්ඡාමී කියලා කියන්නෙ ලැජ්ජා විය යුතු දෙයක් නෙවෙයි. හරියට මේ කුණුහරුප කියනවා වගේ කුටු කුටු ගාලා, මිනිස්සු තෙරුවන් වදින හැටි බලන්න. මේ මුවපුරා කට ඇරලා සද්දෙට කියන්න පුලුවන් එකක්නෙ බුද්ධං සරණං ගච්ඡාමී කියන්නෙ. මේ එක එකාගෙ සින්දු දානවා මුලු ගමම හෙල්ලෙන්න. තෙරුවන් වදින්න ගියාට පස්සෙ කුටු කුටු ගානවා. හොඳට බලන්න. ඉතින් ඒකයි. ඒ වාගේ හිත් තියෙන, ඒ වාගේ ස්වභායෙන් ඉන්න මිනිස්සු කොහොමද පින්වතුනි නිවනක් කරා යන්නෙ, තමන්ගේ ශාස්තෘන් වහන්සේගේ අභිමානය හොඳට කියන්න පුලුවන් හිතක් නැතිව. ඒකට හේතුව ශාස්තෘන් වහන්සේ ගැන නොදන්නාකම. ඒ නිසා තමයි මේ කියලා දෙන්නෙ.

හොඳට මේ බුදු ගුණ ටික අහන්න, කන් යොමා අහන්න, හිත පහදවගන්න. ඔබත් කැමැති නම් අටලෝ දහමින් කම්පා නොවන සිතක් හදාගන්න, ඔබත් කැමති නම් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ඒ උතුම් ගුණ ගඟෙන් නැහැවෙන්න, ඉස්සෙල්ලාම ඔබ කරන්න බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගේ ගුණ ඔය විදියට අහනකොට අහනකොට අපිටත් ආසා හිතෙනවා පොඩ්ඩ පොඩ්ඩ හරි ඒවා පුරුදු කරන්න. දැන් අපි කියමුකෝ, සාමාන්‍ය උදාහරණයක්. ඔන්න අම්මා කෙනෙක් ලස්සනට සාරි අඳිනවා නම් දුව, අම්මාට හරී ආදරෙන්, අර සාරියට ආසාවෙන් සාරි අඳින හැටි හොඳට බලන් ඉඳලා දුවත් ඒකට පුරුදු වෙනවාද නැද්ද. එයත් ඒක පුරුදු වෙනවා. තාත්තා කුඹුර කොටනකොට පුංචි උදැල්ලක් ගන්න පුතත් හිමීට හිමීට ගිහිල්ලා ඒ කුඹුරෙම අයිනක අර උදැල්ලෙන් ගගහා, පස්සෙ කාලයක් යනකොට පුතත් ඒක පුරුදු වෙනවානෙ. වඩුවැඩ කරනකොට පොඩ්ඩක් ඔය ඇණේකට තට්ටු කරලා, තාත්තා තමයි වඩුවැඩේ දන්නෙ, පුතා එතනට පැමිණෙනවා. තාත්තා කරන ඒවට පොඩි උදව්වක් දෙනවා. පස්සෙ මෙන්න මෙයා වඩු බාසුන්නැහැ කෙනෙක් වෙනවා. හොඳට බලන්න. ආන්න ඒ වාගේ තමයි මේ සියල්ල දන්නා වූ සියල්ල දක්නා වූ තථාගතයන් වහන්සේගේ සරණට පැමිණෙන්න. එතකොට මේ තමයි මහා ගුණ ගඟ. බුදුරජාණන් වහන්සේ තමයි මහා ගුණ ගඟ. ඉතින් ඒ බුදුරජාණන් වහන්සේගේ සරණට පැමිණුනාට පස්සෙ ඒ ශ්‍රාවකයාටත් ඒ ගුණ ගඟේ නැවෙන්න පුලුවන්. ඒ බුදුරජාණන් වහන්සේගේ සරණට ආවට පස්සෙ බුදුරජාණන් වහන්සේ මුලු හදින්ම සරණ ගියාට පස්සෙ සසර දුකින් නිදහස් වෙන්න, බුදුරජාණන් වහන්සේගේ පිහිට ගත්තාට පස්සෙ ඒ කෙනාගෙ ගිනි නිවෙන්න ගන්නවා පින්වතුනි, ඇවිලෙන්නෑ. ඒ කෙනාගෙ මුලු සසරේම නොදැනිච්චි සහනයක් දැනෙනවා. ඒක අත්විඳින්න. ඉතින් බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ කිය කියා හොඳට වඳින්න පුලුවන් ඊටපස්සෙ සිහි කරන්න පුලුවන්. හදවතේ බුදුගුණ සිතන එකම භාවනාවක් කරගන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනාට තමයි හොඳට බුද්ධානුස්සතිය වඩන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේ වදාළා, පින්වත් මහණෙනි, එකම එක ධර්මයක් දකිනවා, නිබ්බිදාය විරාගාය නිරෝධාය නිබ්බාණාය සංවත්තති, නොඇල්ම පිණිස, නිරෝධය පිණිස, නිර්වාණය පිණිස එකම එක ධර්මයක් දකිනවා. පඨමෝ ඒක ධම්මෝ, මොකක්ද ඒ එකම එක ධර්මය, බුද්ධානුස්සතිය. බුදුරජාණන් වහන්සේ ගැන සිතන එකම නිවන් උපද්දවලා දෙනවා කිව්වා. ඒකයි පින්වත්නි. ඒ නිසා එච්චර පිහිටක් පිළිසරණක්

රැකවරණයක් අපිට ලැබෙන නිසා බුදුරජාණන් වහන්සේ සරණින්, බුදුරජාණන් වහන්සේ නිසා එච්චර සැනසිල්ලක් අපිට ලැබෙන නිසා බුදුරජාණන් වහන්සේ සරණ යන්න බයවෙන්න එපා. බුදුගුණ කියන්න බයවෙන්න එපා. බුද්ධානුස්සතිය සිහි කරනකොට බයවෙන්න එපා. දැන් බලන්න බුදුගුණ සිහි කරනකොට මහා කාරුණික බුදුරජාණන් වහන්සේ මම සරණ යනවා, බුදුරජාණන් වහන්සේ අනන්ත ගුණයෙන් යුක්තයි, අනන්ත උපේක්ෂාවෙන් යුක්තයි. ඒ නිසා කවුරුහරි කෙනෙක් බුද්ධානුස්සතිය වඩනකොට මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ අනන්ත මෛත්‍රියෙන්ද, අනන්ත කරුණාවෙන්ද, අනන්ත මුදිතාවෙන්ද, අනන්ත උපෙක්ෂාවෙන්ද වැඩ සිටි සේක, ආදී වශයෙන් ගුණ සිහි කරනකොට අනන්ත උපෙක්ෂාවෙන් වැඩ සිටියා කියනකොට මේ බුදුගුණ ඉගෙන ගෙන තියෙන, මේ උපෙක්ෂා ආදී පාරමිතා ධර්ම ඉගෙන ගෙන තියෙන අයට හිතට ස්පර්ශ වෙනවා ඒ ගුණ. එතකොට එයා ඒ ගුණ සිහි කිරිල්ල වචන මාත්‍රයක් විතරක් වෙන්නෙ නෑ. දැන් අපි හිතන්නකො අපිට තිත්ත රහ කියනකොට අපිට තිත්ත තත්පරේට දැනෙනවා, හිතට දැනෙනවා. නමුත් අපි කියමුකො කවදාවත්, සිංහල දන්නැති කෙනෙකුට කියනවා ඔයාට තිත්ත රහ දැනෙනවාද, එතකොට අරයා තිත්ත කියන වචනය කියයි, නමුත් එයාට තිත්ත කියන එක තේරෙන්නෑ. ඒ නිසා භාෂාව නොදන්නා කෙනෙකුට තිත්ත කිව්වා කියලා තේරෙන්නෙ නෑ, ඒ නිසා එයාට තිත්ත තේරෙන්නෑ. ඒ වගේ තමයි බුදුගුණ හොඳට ඉගෙන ගෙන, බුදු ගුණ ගොඩාක් දන්න කෙනාට, බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ මනසිකාරය කරනකොට හිතට දැනෙන්න ගන්නවා. වෙනස තේරුම් ගන්න එතන. එතකොට තමයි ගොඩාක් බුදුගුණ හිතේ රැඳෙන්නෙ. ඉතින් බුදුගුණ ගොඩාක් හිතේ රැඳෙනකොට, හිතේ පව් ගොඩාක් බැහැර වෙවී යනවා. හිත ගොඩාක් ලස්සන වෙනවා. එයාට හිතාගන්නෙ ලෝකයේ උතුම්ම කෙනා ගැන. ලෝකයේ මිනිස්සු හදවතින් ගෑණු ගැන හිතද්දි, පිරිමි ගැන හිතද්දි, ඉඩකඩම් ගැන හිතද්දි, රස්සා ගැන හිතද්දි, ජරා දේවල් හිතද්දි මේ හදවත ජරා වෙවී අඳුරු වෙවී යනවා. බුදුරජාණන් වහන්සේ ගැන හිතනකොට, හිතනකොට හදවත ලස්සන වෙවී යනවා. හදවත ලස්සන වෙවී ලස්සන වෙවී යනකොට එයාගෙ ලේ ධාතුව පවා පිරිසිදු වෙනවා. ලේ ධාතුව පිරිසිදු වෙන්න, පිරිසිදු වෙන්න, එයාගෙ ශරීරය පවා ලස්සන වෙලා යනවා. මූණ පුරා සිරියාවක් පැතිරිලා යනවා. ඒ ඔක්කොම බුද්ධානුස්සතියේ ආනිසංස. මේ ජීවිතයේම. බුද්ධානුස්සතිය වඩන කෙනා සුවසේ වාසය කරන කෙනෙක්. බුද්ධානුස්සතිය වඩන කෙනා පීඩා නැතිව වාසය කරන කෙනෙක්.

ඒක තමයි බුදුගුණ දන්න එකේ වටිනාකම. අපිට වැඩිය ඕන නෑ, මේ පැය ඇතුලත අපිට බුදුගුණ කතා කරනකොට හිතට සැනසිල්ලක් දැනෙනවානෙ. මේ පොඩ්ඩක් අහන පමණින්. එතකොට ඇයි මේ බුදු ගුණ අපි හිතින් ගොඩාක් හිතන්න ගත්තට පස්සෙ පහදින්න ගත්තට පස්සෙ කොච්චර යහපතක්ද. ඔන්න ඔය විදියට දස පාරමී, දස උප පාරමී, දස පරමත්ථ පාරමී ධර්මයන් පුරලා, එතකොට දාන, සීල, නෙක්ඛම්ම, පඤ්ඤා, විරිය, ඛන්ති, සත්‍යය, ඊළඟට අධිෂ්ටාන, මෛත්‍රී, උපෙක්ෂා කියන මේ පාරමිතා දහය පාරමී, උප පාරමී, පරමත්ථ පාරමී විදියට තුන් ආකාරයකින් පුරලා, ඔය විදියට තමයි කියන්නෙ සමතිස් පාරමී ධර්මයන් කියලා. තිස් ආකාරයකට පාරමී ධර්මයන් පුරනවා, මේ අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් තුළ. එහෙම පුරලා අවසාන වෙස්සන්තර ජීවිතේ වෙස්සන්තර ජීවිතේ පින්වතුනි, ඒවා හිතාගන්න බෑ. වෙස්සන්තර ජාතකය කියන්නෙ රැයක් එළිවෙනතුරු හඬ හඬා ඇසිය යුතු බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ අනුවේදනීය කතන්දරය. සංසාරේ බෝසතුන්ගෙ. ඊටපස්සෙ අවසානෙදි පින්වතුනි පින් මෝරලා මෝරලානේ අවසාන වෙස්සන්තර ජාතකය, හම්මෝ් කොච්චර නින්දා ගොඩක් හම්බවෙනවද වෙස්සන්තර රජ්ජුරුවන්ට. කොච්චර දුක් ගොඩක් ලැබෙනවාද. කොච්චර ඇඩිල්ලක් අඬනවාද. අම්මෝ් අර යශෝදරා, මන්ත්‍රී දේවිය අඬපු ඇඩිල්ල, රැය පුරා අඬ අඬා කිලෝමීටර් එකසිය පනහක් යනවා. වෙස්සන්තර රජ්ජුරුවන්ගේ ඇස් වලින් ලේ වැටෙන්නෙ කඳුලු විදියට. මේ අවසාන මනුස්ස ජීවිතේ. අවසානෙ දරුවො දෙන්නා රැගෙන සඳ මහා රජ්ජුරුවොත්, දේවීන් වහන්සේත් ඒ කැලේට යනකොට වෙස්සන්තර රජ්ජුරුවොයි බිසවුන් වහන්සේයි ඒ දෙන්නාගෙ පා වන්දනා කරලා, දරුවො දෙන්නා ඇතින් පුංචි සුකෝමල දරුවො දෙන්නා, ඔය දරුවො දෙන්නා හෙයා හොයානෙ අර යොදුන් පහළොවක් ගියෙ කැලේ. ඇස් වලින් ලේ වැටුනෙ ඔය දරුවො දෙන්නා නිසානෙ. ඒ දරුවො දෙන්නා ඇතින් දුවගෙන එනකොට අම්මා එකපිම්මට දිව්වා පිස්සියක් වගේ. වියරු වැටුනා වගේ කියනවා මන්ත්‍රීදේවියට, දරුවො දෙන්නා දැකලා. එහෙම දැකලා දරුවො දෙන්නා ළඟට දුවගෙන ගිහිල්ලා දරුවො දෙන්නා බදාගත්තා විතරයි, මන්ත්‍රී දේවියට සිහිය නැතිවෙලා එහෙම්මම වැටුනා. දරුවො දෙන්නාටත් මව්ගේ, අම්මාගේ ආදරයට, අම්මා ගැන තියෙන ආදරයට, ඇයි තාත්තෙ අම්මා එනකල් ඉමු, අම්මා එනකල් ඉමු කිය කියානෙ හිටියෙ. ඒ දරුවො දෙන්නා අම්මාව බදාගත්තා විතරයි දරුවො දෙන්නට සිහිය නැතිවුනා. සිහිය නැතිවෙච්චි ගමන්ම සිහිය නැති ශරීරයෙන් මන්ත්‍රී දේවියගේ

පපුවෙන් කිරි විද්දා. ඒ කිරි දරුවන්ගේ කටට වැටුනා. නැත්නම් දරුවොත් මැරෙනවා, අම්මත් මැරෙනවා. මේක දැක්කා වෙස්සන්තර රජ්ජුරුවො, මෙතෙක් දන්දුන්න, පොළොව කම්පා වෙවී දන් දුන්න වෙස්සන්තර රජ්ජුරුවො තවම කොන්ද පණ ඇතිව කෙළින් හිටියා, මේක දැක්ක ගමන්ම වෙස්සන්තර රජ්ජුරුවන්ට සිහිය නැතිවුනා. මේක දැක්ක ගමන් සඳමහාරජ්ජුරුවන්ට සිහිය නැතිවුනා. හැටදාහක් ඇමතිවරු සිහිය නැතිව වැටුනා. එක්කෙනෙක්ගේ මූණට පැන් ඉහින්න තව එක්කෙනෙක් නෑ, මේ පින්වතුනි හැටදාහක් අමාත්‍යවරයො ගෞතම බුද්ධශාසනයේ මහා ශ්‍රාවකයො. ගෞතම බුද්ධ ශාසනයේ රහත් වෙන අය. ඊළඟ ජීවිතේ රහත් වෙන සියලු දෙනා සිහිය නැතිව වැටිලා. පැන් ඉහින්න කෙනෙක් නෑ, අර දරුවා රාහුලාවො, දියණි උප්පලවණ්ණාවො. මේ ඊළඟ ජීවිතේ මගඵල ලබන අයනෙ. ඔක්කොම වැටිලා. පුදුම ජීවිතනේ මේ. ඊටපස්සෙ තමයි අහසින් පොකුරු වැසි වසින්නෙ. ඔක්කෝටම සිහිය ආවා. ආවාට පස්සෙ ඒ රජ්ජුරුවන්ගෙන් වරයක් ඉල්ලුවා. ආපහු දන්දෙන්න. දානෙ නතර කලේ නෑ වෙස්සන්තර රජ්ජුරුවො. ඇයි සක්දෙවිඳුගෙන් වරම් ඉල්ලුවා දිව්‍ය භෝජන පහළ වේවා, මිනිස්සුන්ට දන් දෙන්න ඕන මට. ඒත් මැරෙනකල්ම දිව්‍ය භෝජන. සියලුදෙනාම මරණින් මත්තෙ තුසිතයේ. එතකොට මහා බෝධිසත්ත්වයෝ සිහියෙන් යුතුවම තුසිතයේ ඉපදුනා. සිහියෙන් යුක්තව තුසිතයේ හිටියා, සිහියෙන් යුක්තවම තුසිතයෙන් චුත වුනේ. එතකොට මහා බෝධිසත්ත්වයෝ තුසිතයේ තමයි හිටියේ සම්මා සම්බුද්ධත්වයට පත්වෙන්න කලින්. ඔන්න ඔහොම කාලයක් ඉන්නකොට ඔය විදියට ඉන්නකොට තුසිතයේ ආයුෂ අවුරුදු පනස් හත්කෝටි හැට ලක්ෂයක්. පනස්හත්කෝටි හැට ලක්ෂයක් අවුරුදු තුසිතයේ ඉඳලා තියෙනවා. එහෙනම් වෙස්සන්තර රජ්ජුරුවො පහළ වුනේ අපේ සිදුහත් කුමාරයා ඉපදෙන්න අවුරුදු පනස්හත්කෝටි හැට ලක්ෂයකට කලින් තමයි වෙස්සන්තර රජ්ජුරුවො ඉඳලා තියෙන්නෙ. එතකොට හිතන්න සසර ගමන. ඊටපස්සෙ ඔන්න ඔහොම වෙලා ඒ ඉන්න අතරේ එක්තරා දේවතාවෙක් සිදුහත් කුමාරයා ඉපදෙන්න අවුරුදු දාහකට කලින්, එක්තරා දේවතාවෙක් මේ මනුස්ස ලෝකෙම කිය කියා යනවා තව අවුරුදු දාහකින් බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙනවා. තව අවුරුදු දාහකින් ලෝකයේ දුක් ගිනි නිවන උත්තමයා පහළ වෙනවා. තව අවුරුදු දාහකින් මේ ලෝකයේ ශාන්තිනායකයාණන් වහන්සේ පහළ වෙනවා. කුසල් කරපල්ලා. පින් කරපල්ලා. මෛත්‍රියෙන් හිටපල්ලා. පන්සිල් රැකපල්ලා. කුසල් ගැන කිය කියා යනවා ඒ උත්තමයා දකින්න ඕන නම්, ඊටපස්සෙ ඕකට තමයි

කියන්නෙ බුද්ධ කෝලහාලය කියලා. එතකොට ඔන්න භූමාටු දෙවියෝ කලබල වෙනවා කවුද ඒ බුද්ධ කියන කෙනා. ඊටපස්සෙ ඔන්න දිව්‍යලෝක ඔක්කෝගෙම ඒ කෝලහාලය යනවා. අකනිටා බ්‍රහ්ම ලෝකය දක්වා. තව අවුරුදු දාහකින් ඒ කෙනා පහළ වෙනවා කියලා. එතකොට ඔය කාලෙ වෙනකොට පසේ බුදුවරු පහළ වෙනවා. දැන් අපේ බුදුරජාණන් වහන්සේට කලින් අවුරුදු හත්සීයකට කලින් පසේ බුදුකෙනෙක් ඉඳලා තියෙනවා. ගොඩාක් පසේ බුදුරජාණන් වහන්සේලා වැඩ හිටියා. එතකොට ඒ පසේ බුදුරජාණන් වහන්සේලාත් ඒ බුදු කෙනෙක් පහළවෙන්න කලින් අර වියළි කතරකට සිහින් පැන් පොදක් වැටිලා යනවා වගේ පසේ බුදුරජාණන් වහන්සේලා ලෝකයේ පහළ වෙනවා. ඊටපස්සෙ පින්වතුනි ඒ බුද්ධ කෝලහාලය පැතිරිලා ගියාට පස්සෙ ඍෂිවරු දිව්‍යලෝකෙට ගිහිල්ලා දෙවිවරුන්ගෙන් අහනවා ඒ බුදුරජාණන් වහන්සේ දැනගන්නෙ කොහොමද. ඊටපස්සෙ කලින් බුද්ධ ශාසනවල මාර්ගඵල ලබපු දෙවිවරු ඉන්නවා දිව්‍යලෝකෙ. ඒ දෙවිවරු කියනවා ඒ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේලා, මහා පුරුෂ ලක්ෂණ තිස් දෙකකින් යුක්තයි. එතකොට ඒ මහා පුරුෂ ලක්ෂණ තිස් දෙක මොකක්ද කියලා ලියනවා, බ්‍රාහ්මණයො, බමුණු පොත්වල, වේද ග්‍රන්ථ වල. ඇයි ඍෂිවරුන්ගෙන්නෙ වේද ග්‍රන්ථ එන්නෙ. ඊටපස්සෙ මේ ඉන්න ලක්ෂණ තියෙන කෙනා ගිහිජීවිතේ හිටියොත් සක්විති රජ වෙනවා, පැවිදි වුනොත් සම්මා සම්බුදු වෙනවා කියලා සියලු විස්තර දෙනවා. ඒ අනුව තමයි දෙතිස් මහා පුරුෂ ලක්ෂණ විද්‍යාව බ්‍රාහ්මණයින් අතට පත්වෙන්නෙ. එතකොට පින්වතුනි, ඔය විදියට යනවා, බුද්ධ කෝලහාලය පැතිරිලා යනවා. එතකොට පින්වතුනි බුද්ධ කෝලහාලය පැතිරිලා යනකොට බ්‍රහ්මයෝ දෙවිවරු බලනවා, ඊළඟට කවුද මේ අවුරුදු දාහකින් සම්මා සම්බුදු වෙන උත්තමයා කියලා. එතකොට ඒ දෙවියන්ගේ දිවැසට පේනවා තුසිත දිව්‍ය ලෝකයේ සන්තුසිත කියලා ඉන්න මහා ආනුභාවසම්පන්න දිව්‍ය රාජයා තමයි ඊළඟට සම්බුදු වෙන්නේ කියලා. ඒ දිව්‍යරාජයා ළඟට ගිහිල්ලා සියලු දෙවිවරු ආරාධනා කරනවා, කාලෝ අයංතේ මහා වීර උප්පජ්ජ මාතු පුච්ඡයං සදේවකං තායන්තෝ බුජ්ජස්ස අමතං පදං, මේ මහා වීරයන් වහන්ස, මේ කාලයයි, මව් කුසක ඉපෙදන්න. මේ දෙවියන් සහිත මේ මිනිසුන් සසරේ යන සත්ත්වයන් එතෙර කරවන්න, ලොව්තුරා නිර්වාණ ධාතුව අවබෝධ කරගන්න, සම්මා සම්බුදු බවට පත්වෙන්න මේ කාලයයි කියලා ආරාධනා කරනවා. ඒ ආරාධනා කලාට පස්සෙ උන්වහන්සේ පස්මහබැලුම් බලනවා. කාලය සුදුසු ද. බලනවා

බුදුවරු පහළ වෙන කාලයද කියලා. එතකොට සාමාන්‍යයෙන් කල්ප අවුරුදු ලක්ෂයක් ගිය තැන මිනිස්සුන්ට දුක දැනෙනවා අඩුයි ආයුෂයේ. ඒ කාලෙ බුදුවරු පහළ වෙන්නෑ, අවුරුදු සීයෙන් පල්ලෙහා බුදුවරු පහළ වෙන්නෑ, මහා බෝධිසත්ත්වයෝ මව්කුසේ පහළ වෙනකොට මිනිස් ආයුෂ අවුරුදු එකසිය විස්සයි, මනුස්ස ලෝකෙ. අවුරුදු සීයෙන් පහළ ලෝකෙ මිනිස් ආයුෂ අඩුවෙච්ච තැන පහළ වෙන්නෑ, හේතුව අවුරුදු සීයෙන් පල්ලෙහා කාලෙ මිනිස්සුන්ට අවවාද මතක හිටින්නෑ කියනවා. අද වාගේ. මේ කියනවා මේ හැරෙනකොට අමතකයි. ඒ තමයි කාලයේ ප්‍රශ්නෙ. මේ යුගයේ ප්‍රශ්නෙ. ඉතින් ඒ නිසා පින්වත්නි ඒ විදියට ඒ කාලය බැලුවා, දීපය බැලුවා. කොයි දීපයේද, බුදුවරු පහළ වෙන්නෙ. ජම්බුද්වීපයේ. අන්න ජම්බුද්වීපයේ බුදුවරු පහළ වෙන්නෙ, ලංකාවෙ නෙවෙයි බුදුරජාණන් වහන්සේලා පහළ වෙන්නෙ, ජම්බුද්වීපයේ. හැම බුදු කෙනෙක්ම පහළ වෙන්නෙ එහෙ. එහෙ තමයි විමුක්තිය හොයන අය ඉන්නෙ. ඊටපස්සෙ දේශය බැලුවා. කොයි ප්‍රදේශයේද බුදුවරු පහළ වෙන්නෙ, මධ්‍ය ප්‍රදේශයේ. කපිලවස්තුවේ බුදුරජාණන් වහන්සේට ඉපදෙන්න තියෙන්නෙ. කුලය බැලුවා, ඒ කාලයේ ඔක්කොම ගරු කරන කුලය, ක්ෂත්‍රිය කුලය. රාජ කුලය. ඊළඟට මව බැලුවා. ලොව්තුරා සම්මා සම්බුදු පුත්‍රයෙක් කුසේ දරාගෙන ඉන්න පිරූ ගුණධර්ම තියෙන උත්තමාවියක් ඉපදිලා මායා බිසව. ඇගේ ආයුෂ බැලුවා. ආන්න ඇගේ ආයුෂ යම් දවසක ආයුෂ ඉවරවෙලා අවුරුදු මාස දහයයි දවස් හතක් ආයුෂ තියෙද්දි තමයි කුසේ පිළිසිඳගන්නෙ. ඒ ඔක්කොම බැලුවා, දින වකවානු. ඒක තමයි පස්මහ බැලුම් බැලුවා කිව්වෙ. ඔය වෙනකොට ලෝකයේ පසේ බුදුරජාණන් වහන්සේ නමක් ඉසිගිලි පර්වතයේ හිටියා මාතාංග කියලා. ඒ සම්මා සම්බුදුරජාණන් වහන්සේ මව්කුසේ පිළිසිඳගන්නකොටම මාතාංග පසේබුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවා. පසේ බුදුවරු පහළ වෙන්නේ බුදු කෙනෙක් පහළ වෙන්න ඔන්න මෙන්න තියෙද්දි. මේ කාශ්‍යප බුද්ධ ශාසනයේ ඉඳලා ගෞථම බුද්ධ ශාසනය දක්වා ලෝකයේ පහළ වුනු අන්තිම පසේ බුදුරජාණන් වහන්සේ ඉසිගිලියේ හිටියේ මාතාංග කියලා. ඉතින් ඒ නිසා අපි ඉදිරියට තවත් දැන් දස පාරමිතා කාණ්ඩය ඒ කොටස අපි ඉගෙන ගත්තා, ශක්ති පමණින් අපි කිව්වෙ. ඉදිරියට අපි ගොඩාක් දේවල් බුදුරජාණන් වහන්සේගේ සම්බුදු ජීවිතය ගැන ඉගෙන ගන්න තියෙනවා. ඉතින් ඒ නිසා ඔය තමයි සන්තුසිත කතාව. ඔය තමයි මහා බෝධිසත්ත්වයෝ දිව්‍ය ලෝකෙ අපේ මහාමායා දේවීන් වහන්සේගේ කුසේ පිළිසිඳ ගන්න කලින් කතාව. අපි ඊළඟ වැඩසටහනේ ඉඳලා ලොව්තුරා සම්මා

සම්බුදු කෙනෙක් මව්කුසට පැමිණිලා මේ මිහමඩලේ පහළ වෙන අසිරිමත් සිද්ධි සමුදාය සම්බුදු ගුණ වරුණ අසමින් ශ්‍රවණය කරමු. ඉතින් මේ සා අනන්ත අපරිමාණ දස පාරමී දස උප පාරමී, දස පරමත්ථ පාරමී ගුණ ධර්මයන් පූරණය කරලා, මේ තුන් ලෝක ධාතුවම කම්පා කරමින් බුදු කෙනෙක් පහළ වෙනවා කියලා තමන් පහළ වෙන්නත් කලින් ලෝකය පුරාම ඒ යස කීර්ති ඝෝෂාව පැතිරුණ මහා තේජස් ඇති ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණ ඔබ සියලු දෙනාටම සැලසේවා. මුළු හදවතින්ම මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා නිතර හිතන්න. නිවන් දකින මොහොත දක්වා මේ උතුම් ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. නිවන් දකින මොහොත දක්වාම මේ ආර්ය මහාසංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. උතුම් සම්බුදු සරණින් ඔබගේ ජීවිතයේ දුක් දුරුවේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහනට දායකත්වය දරන්නේ අංක 53, ඉද්දමල්ලියගොඩ, මැණික්හින්න පදිංචි පින්වත් ගාමිණී අබේරත්න මහත්මයා. අපි පළමුවෙන්ම සෙත් ප්‍රාර්ථනා කරමු භාග්‍යවතුන් වහන්සේගේ උතුම් දස පාරමිතානුභාව බලයෙන්, ඒ වගේම බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුණ බලයෙන් මේ ධර්ම දානයේ පින් බලයෙන් ඒ වගේම තුණුරුවන්ගේ ආනුභාව බලයෙන්, සියලු දෙවියන්ගේ දිව්‍ය උපකාරයෙන් ලක්දෙරණටත්, ලෝකයටත්. ව්‍යසනයක් වුනු කොරෝනා වසංගතය දුරින්ම දුරු වේවා. රෝගීන් සුවපත් වේවා. මේ ලක්දෙරණටත් මනුස්ස වර්ගයාටත් සියලු දෙනාට සියලු යහපත සැලසේවා කියලා පින් බලයෙන් සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වගේම සියලු දෙවි දේවතාවුන් වහන්සේලාට මේ පින් අනුමෝදන් වේවා. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා, ලක්දෙරණ ආරක්ෂා කරත්වා, දෙවියෝ සතුටින් පින් අනුමෝදන් කරත්වා කියලා අපි පින් පමුණුවනවා. ඒ වාගේම ගාමිණී අබේරත්න මහතා නමින් මිය පරලොව ගිය කිරිමැණිකා මැණියන්ටත්, ප්‍රේමරත්න පියාණන්ටත්, විමලරත්න පියාණන්ටත්, හේමචන්ද්‍ර සහෝදරයා ඇතුළු මියගිය සියලූම ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී පරලොව සියලූම සැපය වේවා කියලා අපි පින් පමුණුවනවා. පරම පූජනීය ගුරු දේවොත්තම, කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි අපිට මේ බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුණ කඳ අහලා මේ ජීවිතේ සුවපත් කරගන්න මේ වාසනාව සැලසෙන්නෙ. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත්

ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලු ස්වාමීන් වහන්සේලාත්, අනගාරිකා මෑණිවරුනුත්, පැවිදි අපේක්ෂක දූපුතුනුත් සියලු දෙනාට උතුම් චතුරාර්ය සත්‍යය ධර්මයම අවබෝධ වේවා. ඒ වගේම විදේශගතව සිටින කටාර්හි ගාමිණී අබේරත්න මහත්මයාටත්, ඒ වගේම බිරිඳටත්, දූදරුවන් ඇතුලු පවුලේ සියලුදෙනාටත් නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා. දූදරුවන්ගේ අධ්‍යාපන කටයුතු ආදිය සාර්ථක වේවා, නිදුක් නිරෝගී සුවපත් භාවය ආරක්ෂාව සැලසේවා. උතුම් සම්බුදු සරණින් සැනසිලා, ගෞතම බුදුසසුනේ දුක් කෙළවර කරගන්න මේ පින් හේතු වාසනා වේවා කියලා එක හිතින් සෙත් පතනවා. ඒ වගේම අපගේ මව් දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන්ටත් පින් අනුමෝදන් වේවා. ධර්මය ඇසූ ඔබ සියලුදෙනාට, ලක්විරු ගුවන්විදුලියේ, ශ්‍රද්ධා රූපවාහිනියේ සියලු දෙනාට, කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට දායකත්ව ධර්ම පවත්වන ඒ වගේම උපකාර කරන සියලු දෙනාට පින්සිදු වේවා, අපි කාටත් උතුම් සම්බුදු සරණින් ගෞතම බුදුසසුනේ දුක් ගිනි නිවාගන්න මේ පින් බලය හේතු වාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා, පින් පමුණුවනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=tJhns40Ales&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=15

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ පිණිස පවතින ධර්ම දේශනා මාලාව. අද උතුම් දහම් වැඩසටහනේ ශ්‍රද්ධා රූපවාහිනියේත් ලක්විරු ගුවන් විදුලියෙත් විකාශනය කරන්නට දායකත්වය දරන්නේ ෆේස්බුක් සමාජ මාධ්‍ය ජාලයේ ළඟඅය මිතුරු සමූහය විසිනුත්, ඒ වගේම සහස්දීපන මිතුරු සමූහය විසිනුත්, ඇමරිකා එක්සත් ජනපදයේ ඇට්ලන්ටා හා වෙනත් ප්‍රාන්තයන්හි පදිංචි පින්වත් මිතුරු මිතුරියන් පිරිසක් එකතු වෙලා අද මේ සමූහයක් විදියට, ධර්ම දානයක් දෙන්න ඕන කියලා මේ ධර්ම දානයට සහසම්බන්ධ වෙන්නෙ. ධර්ම දානය ලබාදීම විශාල යහපතක්. මොකද ගොඩාක් දුර රටවල් වල සිටින අයට ගොඩාක් ඈතක සිටින අයට, ළඟට පැමිණෙන්නට නොහැකි අයට, ගොඩාක් අයට ධර්මය අහන්න සැලසුනේ මේ ශ්‍රද්ධා රූපවාහිනිය ඔස්සේ ධර්මදාන විකාශනය කරපු නිසා. ඊටපස්සෙ ඒ ධර්ම දේශනා අන්තර්ජාලයට එක්වුනා. ඒවත් එක්ක බොහෝ දෙනා ඈත ඉඳලා ධර්මය අහනවා. ඉතින් ඒ නිසා ඔබත් මේ ධර්මදානය දුන්නට පස්සෙ බොහෝ ඈතක ඉඳලා ඔබ වගේ පිරිසක් ධර්මය අහනවා. පසුගිය කාලයේ අපි දස පාරමිතා පුරමින් අපේ මහා බෝධිසත්ත්වයෝ ගුණ ගඟ පුරුදු කරපු හැටි ඉගෙන ගත්තා. ඒ වගේම මීට කලින් වැඩසටහනේ ඒ අපරිමිත ගුණ සමුදායන් සමඟ උන්වහන්සේ පනස්හත්කෝටි හැට ලක්ෂයක් අවුරුදු ආයුෂ තියෙන තුසිත දිව්‍ය ලෝකයේ උපන් විස්තර ඉගෙන ගත්තා. බුද්ධ කෝලහාලය ඇතිවෙලා බුදු කෙනෙක් ලෝකයේ පහළ වෙනවා කියන රාවය ලෝකයේ පැතිරී ගිය හැටි ඉගෙන ගත්තා. බුදු කෙනෙක් පහළ වෙන්න කලින් පසේ බුදුවරු ලෝකෙ පහළ වෙනවා. මේ කාශ්‍යප බුද්ධ ශාසනයත්, අපේ බුද්ධ ශාසනයත් අතර අවසානෙට පහළ වුනේ මාතාංග කියන පසේ බුදුරජාණන් වහන්සේ. අපේ බුදුරජාණන් වහන්සේ පහළ වෙනවාත් සමඟම, මව්කුසේ ඉපදෙනවාත් සමඟ ඒ මාතාංග පසේබුදුරජාණන් වහන්සේ ඉසිගිලි පර්වතයේ පිරිනිවන් පානවා. එතකොට ඔය විස්තර තමයි අපි මීට කලින් ඉගෙන ගත්තෙ. සංසාරයේ කෙළවරක් නෑ මහා බෝධිසත්ත්වයන්ගේ ගුණ. අපි ශක්ති පමණින් පින්වතුනි ඒ ගුණ කියන්න ගියාට පස්සෙ අපිට, එහෙම කියනවා නම් ජාතක කතා පන්සිය හතලිස් අටම කියලා ගුණ කියන්න ඕන. එතකොට සමස්තයක් වශයෙන්, සමහර විට අපි යම්කිසි ජාතක කතාවක් කියනකොට ඒකෙ තියෙන වෙනත් ගුණ ඔබට වෙනම තේරෙනවා ඇති. ඒවා එහෙම තමයි. දැන් එක ජීවිතේක ගිරවෙක් වෙලා ඉන්නවා මහා බෝධිසත්ත්වයෝ, එක වෘක්ෂයක් ඇසුරු කරගෙන. නියං කාලයක් ඇවිල්ලා ගස් ඔක්කෝම ටික මැලවිලා ගිහිල්ලා සියලු

සත්වයෝ ඈතට ගියා. ඒ වුනාට අර ගහේ හිටපු ගිරවා කල්පනා කලා, මං පුංචි කාලයේ ඉඳලා ජීවත් වුනේ මේ වෘක්ෂයේ. එතකොට මේ ඔක්කොම අතහැරලා යද්දින් මට පිහිට වුන මේ වෘක්ෂය අතහැරලා යන එක හොඳ නෑ. මම මේ දිරපු කෑල්ලක් හරි කාලා මෙහෙ ඉන්නවා කියලා. කෙලෙහිගුණ. තමන්ට මෙතෙක් පිහිට වුනු වෘක්ෂයටත් තනි කරන්න හොඳ නෑ කියලා තිබ්බ කෙළෙහිගුණ. ගහකට එහෙම කෙළෙහිගුණ දැක්වූවා නම් මහා බෝධිසත්ත්වයෝ මිනිස්සු කෙරෙහි කොච්චර කෙළෙහිගුණ, කෘතගුණ කියන එක සළකන්න ඇතිද. ඉතින් ඒ නිසා අනන්ත අපරිමාණ ජීවිත වල සත්පුරුෂ ඇසුරම පැතුවා. සත්පුරුෂයන් සමඟ ජීවත්වීමම පැතුවා. ඊළඟට අනන්ත අපරිමාණ සසරේ පතපු දෙයක් තමයි මහා බෝධිසත්ත්වයෝ අසත්පුරුෂ ඇසුරක් එපා කියලා. ඒ නිසාම බුදුරජාණන් වහන්සේ පිරිවරාගත්තා මහරහතන් වහන්සේලාම. අසත්පුරුෂ පිරිස බුදුරජාණන් වහන්සේගෙන් ඈත් වෙවීම ගියා. උන්වහන්සේ පිරූ පාරමී ගුණධර්ම වල තේජස. මෙච්චර පාරමී ධර්මයන් පිරුවේ නැත්නම් වජිරාසනයේදී දස මාර සේනා බිඳ හරින්නේ කෙසේද. පින්වතුනි තමන් නිකෙලෙස් වෙලා අන් අයටත් පිහිට වෙද්දි තමයි බලය වැඩි මේ ලෝකෙ. දැන් පසේ බුදුරජාණන් වහන්සේලාට දසබල මාර සේනා පරාජයට පත්කිරීමක් කියලා එකක්, මාරයත් එක්ක ද්වන්ධ සටනක් නැනෙ. තියෙන්නෙ කෙලෙස් සටනමයි. කාමාතේ පඨමාසේන, දුතියාරති වුච්ඡති, තුතියා .. ආදී වශයෙන් ඒ මාර සටන තියෙනවා කෙලෙස් සටන. මේ සම්මුඛවම මාරයත් එක්ක කෙරෙන සටනක් නෑ. නමුත් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ කෙනෙක් පහළ වෙනකොට නවවිධ වර්ෂා සහිතව මේ සටන ආරම්භ වෙනවානෙ. බලන්න තමන්ට පිහිටක් සලසාගෙන ලෝකෙට පිහිටක් දෙන්න ගියාට පස්සෙ කොච්චර කරදර බාධා පැමිණෙනවාද. ඒ නිසා තමයි ගොඩාක් ධර්ම දේශකයාණන් වහන්සේලාට නොයෙක් කරදර සිද්ධ වෙනවා. සමහර වෙලාවට මේ ධර්ම දේශනා කරනවා. කාලයක් යනකොට ආගිය අතක් නෑ, ඊටපස්සෙ ඔය වගේ නොයෙක් ප්‍රහාර වලට ලක්වෙනවා. ඉතින් ඒ නිසා මේක ලේසි නෑ, බුදුරජාණන් වහන්සේ ඒකයි වදාළේ, භාග්‍යවතුන් වහන්සේගේ අර්හත් පරම්පරාව එකදිගටම පවතින්නේ පින්වතුනි අවුරුදු පන්සීයයි. එතනින් පසුව කාලෙන් කාලෙට මාර්ග ඵල ලාභීන් බිහිවෙලා ඒ මාර්ගඵල ලාභී පරම්පරාව පවතින්නෙ අවුරුදු දාහයි. මේ විදියට සියල්ලම අනිත්‍ය වෙලා යනවා. වෙනස් වෙලා යනවා. අන්‍ය ස්වභාවයකට පත්වෙනවා. මේ කෙලෙස් සහිත ලෝකෙන් ගැලවෙනවා කියන එක ලේසී නෑ. පින් තියෙන සියලු පිරිස බුදුරජාණන්

වහන්සේ ළඟට එකතු වෙනවා. සම්මා සම්බුදු සරණ සොයාගෙන ආපු සම්මා සම්බුදු සරණින් පිහිට ලබාගන්න සියලු පිරිස බුදු කෙනකේ ළඟ එකතු වෙනවා. ඒ පිරිස බුදුරජාණන් වහන්සේගේ පිහිට ලබාගෙන එතෙර වෙලා යනවා. දැන් අර බලන්න අපි කතා කලා නලපාන ජාතකය. එහි අසූදාහක් වානරයෝ මහාබෝධිසත්ත්වයෝ කියන කතාව අහනවානෙ, මගෙන් විමසන්නැතිව කිසි දෙයක් කරන්න එපා කියනවා. කිසි කෙනෙක් කිසි දෙයක් කලේ නෑ, ඒ අසූදාහම අපේ බුද්ධ ශාසනයේ මාර්ග ඵල ලැබුවා. අර්හත්වයට පත්වුනා. අසූදාහම. එතකොට කොහොමද ඒ අතීතයේ මහා බෝධිසත්ත්වයන් පෙරුම් පුරන කාලෙ ළඟට වෙලා හිටපු කෙනාටත් සැප සැලසිච්චි හැටි. පුදුම සහගතයි. පිහිට සැලසෙන හැටි. ඊටපස්සෙ එක ජීවිතයක තියෙනවා, කොසොල් රජ්ජුරුවන්ගේ ඇමතිවරු දෙන්නෙක් හොදටම විරසකයි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ එක ඇමැති කෙනෙක්ගේ ගෙදරකට දානෙකට ගිහිල්ලා, ඊටපස්සෙ ඒ ඇමතිතුමාගෙ ගෙදරින් දානෙ වළදලා, ඒ ඇමතිතුමා අතට පාත්තරය දීලා අනෙක් ඇමතිතුමාගෙ ගෙදරට ගියා. එතකොට අර ඇමැතිතුමා පිටිප්සසෙන් එනවා පාත්තරය අරගෙන. එතකොට  දැන් දහවල් කාලය. දැන් ඔය ඇමතිවරු දෙන්නා හරි විරසකයි. ඉතින් බුදුරජාණන් වහන්සේ ඇමතිතුමාගේ ගෙදරට ගිහිල්ලා අර ඇමතිතුමත් ඉතින් දෙන්නත් එක්ක දහම් සාකච්ඡා කරලා සමගි වුනා. බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කලා, දෙන්නම සෝවාන් වුනා. ඊටපස්සෙ දෙන්නම එක පිඟානෙන් බත් කෑවා. මේ උපන්තේකට විරුද්ධ අය. ඊටපස්සෙ සංඝයා අතර කතාවක් ඇතිවුනා, ස්වාමීනී මේ දෙන්නා හරි විරුද්ධයිනෙ, කොහොමද මේ දමනය වුනේ. මේ දෙන්නා මම කලිනුත් දමනය කලා. ඒ තමයි මේ ඇමතිවරු දෙන්නා ඒ කාලයේ මහා බෝධිසත්ත්වයෝ තපස් රකින කාලයක එක්කෙනෙක් හිටියා, වඳුරෙක් වෙලා හිටියා, හරී ජරා වඳුරෙක්. මහාබෝධිසත්ත්වයො භාවනා කර කර ඉන්නකොට ඇවිල්ලා ඇඟ උඩ නගිනවා. ඇගේ ජරා කරනවා. නොයෙක් අකටයුතුකම් කරනවා. ඉතින් මහාබෝධිසත්ත්වයෝ ඉවසීමෙන් ඉන්නවා. ඊටපස්සෙ ඒ ඉන්න පොකුණ ළඟ දිය පාරක් ගලාගෙන යනවා. ඒ දියපාරෙ ඉබ්බෙක් ඉන්නවා. ඒ ඉබ්බා අව්ව තපින්න ඇවිල්ලා කට උඩට හරවගෙන දැන් ඉබ්බා අව්ව තැප තැප ඉන්නකොට අර වඳුරා පුරුද්දට ගිහිල්ලා ඉබ්බගේ ඇඟ උඩ නැගලා අර ජරා වැඩක් කලා. ඉබ්බා ඒ වඳුරාගෙ ඇඟ හැපුවා. දැන් කට අතාරින්නෑ, ඉතින් ඉබ්බව මෙහෙම අල්ලගෙන දැන් දුවගෙන එනවා මේ වඳුරා. ඉතින් බෝධිසත්ත්වයෝ අහනවා, තාපසයින් වහන්සේ, මොකද මේ වඳුරු රාළ

පාත්තරයකුත් අරන් පිණ්ඩපාතෙ යනවද කියලා ඇහුවා. ඊටපස්සෙ වදුරට කරුණු කියලා උඹගේ ඔය ජරා වැඩ නතර කරපං කියලා ඉබ්බටත් කිව්වා අතෑරලා දාමු අපි කියලා හදාගමු කියලා කරුණු කියලා දමනය කලා. ඉතින් ඒ පොඩ්ඩට ඒ දමනය වුනු දමනය විල්ලට මොන ජරා හිත් තිබ්බත් අර මහා බෝධිසත්ත්වයන්ගේ වචනයට එකඟ වෙච්චි පිනට අපේ බුද්ධශාසනයේ ඒ දෙන්නම මාර්ගඵල ලැබුවානෙ. එතකොට හිතන්නකො බෝධිසත්ත්වයන්ට දමනය වෙලා එහෙම පිළිසරණක් සැලසෙනවා නම් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ බුදුරජාණන් වහන්සේ සරණ ගිහිල්ලා ඒ දහම් වැඩපිළිවෙලට අපි දමනය වුනොත්, මේ බුදු සසුනක පිළිසරණ ලැබෙනවා ලැබෙනවාමයි. ඒක තමයි ආශ්චර්යය දේ. පින්වතුනි ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ දීපංකර පාද මූලයේ විවරණ ගන්නෙ රහත් වෙන්න පින තියෙද්දි. එතකොට අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් පෙරුම් පුර පුරා පින් උපද්දවන්නේ අර්හත්වය පිණිස නෙවෙයි, සම්මා සම්බුදු බව පිණිස. දැන් පේනවා නේද රහතන් වහන්සේ නමකගෙයි, බුදුරජාණන් වහන්සේගෙයි තියෙන වෙනස. ඒ නිසා බුදුරජාණන් වහන්සේ සරණ යන එක කොයිතරම් වාසනාවක්ද. ඉතින් ඒ නිසා අපි අද ඉගෙන ගන්නවා, අච්චරිය අද්භූතධම්ම සූත්‍රය. ඒකෙන් තමයි උතුම් සම්බුදු උපත ගැන කියවෙන්නෙ. පින්වතුනි, ඒ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙනකොට ඒ බුදු කෙනෙක් පහළ වෙනවා කියන එක, අර වැස්සක් එන්න කලින් සීතල හුළඟක් හමාලා, මන්දාරමක් ගිහිල්ලා දැනෙනවානෙ, දැන් වැස්සක් එයි කියලා. ඇඟට ලොකු සැනසිල්ලක් දැනෙනවානෙ. ආන්න ඒ වගේ බුදු කෙනෙක් පහළ වෙනකොට පසේ බුදුවරු පහළ වෙලා, අර දෙතිස් මහා පුරුෂ ලක්ෂණ ගැන කතා වෙලා, අමුතු මොකක්දෝ එකක් දැනෙන්න ගන්නවා. ඊටපස්සෙ සුද්ධෝදන මාළිගාවෙ ඒ මහාමායා දේවීන් වහන්සේට දරුවන් නෑ, දැන් අවුරුදු මහාමායා දේවීන් වහන්සේට මධ්‍යම වයස ගෙවෙන්න ළඟයි. එතකොට පින්වතුනි මම දැක්කා අටුවාවේ තියෙන විස්තර, මධ්‍යම වයස ගෙවුනට පස්සෙ ස්ත්‍රියකට දරුවෙක් ලැබුනොත් ඒ දරුවා හරි නිරෝගී, දරා ගැනීමේ ශක්තියෙන් යුතු, උතුම් දරුවෙක් වෙනවා කියලා මේ අටුවාවෙ තිබ්බා. ඉතින් ඒවා කොහොමද කියලා අපිට තේරෙන් නෑ. ඉතින් මහාමායා දේවීන් වහන්සේගේ මැදි වයස ගෙවෙන වයස වාගෙ වෙනකොට තමයි සිදුහත් කුමාරයාගේ උත්පත්තිය සිද්ධ වෙන්නෙත්. ඉතින් එදා රෑ මහා මායා දේවිය සිහිනයක් දැක්කා, ඇසළ මහේ. ඒ තමයි නිදාගෙන ඉන්නකොට දැක්කා, උපෝසථය

සමාදන් වෙලා ඉන්නෙ. නිදාගනෙ ඉන්නකොට දැක්කා, අර තමන්ගේ ආසනය පිටින් සතරවරම් දෙවියන් ඔසවාගෙන ගිහිල්ලා රත්තරන් පර්වතයක් ළඟට, ඒ රන් පර්වතයේ රිදී ගුහාවක් තියෙනවා. ඒ ගුහාවේ සතප්පවලා, ඒ දිව්‍ය අප්සරාවන් විසින් ඇව පොකුණකට ගෙන්නගෙන හිල්ලා පැන් පහසු කරවනවා. දිව්‍ය ආභරණ වලින් සරසවලා ආයෙ ඇඳ පිටින් ගෙනල්ලා තියනවා ආයෙ මාළිගාවෙ. එතකොට ආකාසෙන් මතුවුනු සුදුම සුදු ඇත් පැටියෙක් නෙළුම් මලක් රැගෙන ඇඳ වටේ තුන් වතාවක් පැදකුණු කරලා කුස ඇතුලට ගියා. ඒක තමයි දැක්ක හීනය. ඉතින් නිමිත්ත පාඨකයෝ කිව්වා, රජතුමනි, - පහුවදා නිමිත්ත පාඨකයෝ ගෙන්නලා කිරිබත් වළඳවලා මේ හීනය විස්තර කරනකොට කිව්වා - රජතුමනි, පින්වන්ත පුත්‍රයෙක් පහළ වෙනවා. මේ පුත්‍රයා අනාගතේ විශාල මේ ලෝකයේ විශාල රාජ්‍යයක් දරන කෙනෙක් බවට පත්වෙනවා. ඊටපස්සෙ දැන් ඔහොම සිද්ධ වුනා. දැන් අච්චරියඅද්භූත සූත්‍රය දිහා බලනකොට ඒ සූත්‍ර දේශනාවෙ තියෙනවා වෙස්සන්තර රජ්ජුරුවො තුසිත දිව්‍යලෝකෙ ඉපදුනේ දැනගෙනමයි. ඒ කියන්නෙ දැන් ගේ කාමරේකින් එළියට දැනගෙනම යනවානෙ. මේ කාමරේකින් එළියට යනවා. ඔබ ඉන්න කාමරෙන් එළියට යනවා. ගෙයින් මිදුලට යනවා. ඔබ දැනගෙනමනෙ යන්නෙ. එතකොට දන්නවා මේ දැන් මං එළියට ඇවිල්ලා කියලා. ආන්න ඒ වගේ තමයි වෙස්සන්තර මහරජ්ජුරුවො මනුස්ස ලෝකෙන් චුත වෙලා දිව්‍ය ලෝකෙ ඉපදුනේ, මේ ඇදේ එහෙම්මම වෙස්සන්තර රජ්ජුරුවො මැරුණා, මැරිච්ච ගමන්ම එහෙම්මම තුසිතයේ. එතකොට ඒ සන්තුසිත දිව්‍ය රාජයා දැක්කා මං කලින් වෙස්සන්තර වෙලා හිටියේ, දැන් මං තුසිත දිව්‍ය ලෝකයට ආවා. මං මෙහෙමයි මැරිලා ආවෙ, ඔක්කොම මතකයි. අවුරුදු පනස්හත්කෝටි හැට ලක්ෂයක් සන්තුසිත දිව්‍යරාජයා විදියට ඉඳලා අර දෙවිවරුන්ගේ ආරාධනාව ලබලා, ඇසල පුන් පොහෝය දවසේ දිව්‍ය ලෝකෙන් චුත වුනා. දිව්‍ය ලෝකෙන් චුත වෙලා, ඒ දෙවිවරුන්ට දිව්‍ය ආයුෂ ඉවර වුනාට පස්සෙ දිව්‍ය මල් මාලා පරවෙනවා, අවුරුදු පනස්හත්කෝටි හැට ලක්ෂයක් පරවෙච්චි නැති මල් පරවෙනවා. ඒ දිව්‍ය විමානෙ ඉන්න හිතෙන් නෑ. ඊළඟට ඇඟේ දාඩිය දාන්න ගන්නවා. මේ විදියෙ වෙනස්කම් සිද්ධ වෙනවා චුත වෙන්න ආසන්න වෙනකොට. එතකොට හරියටම මහාමායා දේවින් වහන්සේට මාස දහයයි දවස් හතයි ආයුෂ තියෙන්නෙ. අර ස්වප්නය දකිනවාත් එක්කම එහෙම්මම මව් කුසට පිළිසිඳගත්තා. තුසිත දිව්‍යලෝකෙන් චුත වෙනවාත් දන්නවා මහා බෝධිසත්ත්වයෝ, අම්මාගේ කුසට ආවත් දන්නවා. අම්මගේ කුසේ ඉන්නවත්

දන්නවා, ඉපදෙනවත් දන්නවා. ඔක්කෝම මතකයි. ඕක ආශ්චර්යයී අද්භූත කාරණාවක්. දැන් ඔබ දිහා බලන්න, අපි කොයි ලෝකෙන් ආවද කියලා දන්නෙත් නෑ, කොහේ හිටියද කියලා දන්නෙත් නෑ, ඉපදුනාද කියලා දන්නෙත් නෑ, අපිට මතක මොකාක්හරි ස්කෝලෙ යන එකක් හරි, ඊළඟට කිරි බීපු එකක්හරි ඔය මොනවගේ දෙයක්හරි තමයි අපිට මතක. අපි ඉපදෙනකොට ඉස්පිරිතාලෙ මතකත් නෑ, මොකක්වත් මතක නෑ අපිට. මහා බෝධිසත්ත්වයන්ට ඒ සියල්ල මතකයි. මව්කුසට එනවා මතකයි. මව්කුසේ ඉන්නවා මතකයි, මව්කුසෙන් ඉපදෙනවා මතකයි. ආශ්චර්යයී අද්භූත කාරණාවක් ඒක. මව්කුසට ආවට පස්සෙ ඒ මව්කුසේ පිළිසිඳගන්නකොට දස දහසක් ලෝක ධාතු වල ආලෝකය පැතිරී යනවා. ඊළඟට ගොඩාක් සුවඳ විහිදෙනවා ලෝකයේ. ඊටපස්සෙ මව්කුසේ, ඒ අම්මා, මහාමායා දේවීන් වහන්සේගේ මිහිමඩල සලිත වෙලා යනවා. මහාමායා දේවීන් වහන්සේගේ හතර කොන සතරවරම් දෙවියෝ ආරක්ෂා කරනවා. ඉතින් මහාමායා දේවීන් වහන්සේ පැන් සනීප වෙන වෙලාවට, වළඳන වෙලාවට, වැසිකිලි කැසිකිලි කරන වෙලාවට දෙවිවරු අතුරුදහන් වෙනවා. අනිත් හැම වෙලාවෙම දෙවිවරු හතරකොනේ සිටිනවා. බලන්න දරුවෙක් කුසට ආවට පස්සෙත්, මහා බෝධිසත්ත්වයෝ ආවට පස්සෙත් ආරක්ෂා කලා. ඒ නිසා ඔබටත්, කුස දරු අම්මලා ඉන්න අය ඉන්නවානම් තමන්ගේ කුසට දරුවෙක් ආවට පස්සෙ තුණුරුවන් සරණින් කුස ආරක්ෂා කරන්න ඕන. මාගේ දරුවාට ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුණානුභාවයෙන් ආරක්ෂාවයි. මේ බඩේ සිටින දරුවා තුණුරුවන් සරණ යනවා. ඒ සරණේ ආනුභාවයෙන් ආරක්ෂාවයි කියලා. අංගුලිමාල මුනිඳුන්ගේ තේජසින් ආරක්ෂාවයි කියලා ආරක්ෂා කරන්න ඕන. දැන් අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ මව්කුසට ආවට පස්සෙ දෙවිවරු ස්වකැමැත්තෙන්ම ඒ සතර කොන ආරක්ෂා කරනවා. ඊටපස්සෙ ඒ අම්මා ප්‍රකෘතියෙන්ම පඤ්චසීලයෙන් යුක්ත වෙනවා. ඒ අම්මට කවදාවත් සතෙක් මරන්න හිතෙන්නෑ, හොරකමක් කරන්න හිතෙන්නෑ, ඊළඟට බ්‍රහ්මචාරීයි. ඊළඟට බොරු කියන්න බොරුවක් කරන්න හිත කැමති නෑ, සුරාවට කැමති නෑ, ඒ අම්මාගේ හිතේ රාග සිතිවිලි ඇතිවෙන්නෑ. ඒ මහාමායා දේවීන් වහන්සේ දිහා බලලා වෙන පිරිමියෙකුටවත් රාග සිතක් උපද්දවාගන්න බෑ. මහාමායා දේවීන් වහන්සේ දිව්‍ය අප්සරාවක් වගේ ලස්සනයි කියනවා. කවුරුහරි කෙනෙකුට මහාමායා දේවිය මතක් වෙලා රාග සිතක් ඇතිවුනොත් එහෙම ඔහුගේ පා දෙක පොළොවට ඇලෙනවා කියනවා, පා

ඔසවන්න බෑ කියනවා. ඒ බෝධිසත්ත්ව මාතාව දෙස බලන්න බෑ කියනවා රාග සිතකින්. ඊළඟට ඒ බෝධිසත්ත්ව මාතාවට ගොඩාක් පඤ්චකාම සම්පත්තිය, ඒ කියන්නෙ ප්‍රණීත ආහාර, එදා ඉඳලා රාජ මාළිගාවෙ උයන ආහාර රසයි ගොඩාක්. ලස්සන ඇඳුම්, සිනිඳු පහසු ඇඳුම්, ඒ දේවියට දාඩිය දාන්නෑ, සීතල සුළඟ හමනවා. හරි සැපපහසුවම ඇතිවෙනවා, අමාරුකම් නෑ. අද කාලෙ බබෙක් ලැබෙන්න ගියාට පස්සෙ ඒ අම්මලාට ගහලා තලලා දැම්මා වගේ ඒ අම්මලා ඉදිමෙනවා. මහාමායාදේවීන් වහන්සේගේ එහෙම නෑ. ඊටපස්සෙ ඒක ආශ්චර්යයි අද්භූත කාරණා. ඊළඟට මහාමායා දේවීන් වහන්සේට පුලුවන් කුස අල්ලලා දරුවා දිහා බලන්න. කුස අතගානකොට ඇතුලෙන් දරුවා පේනවා, හිනාවෙනවා පේනවා. අම්මා දරු සුරතල් බැලුවේ, දරුවා කුසේ ඉද්දින්මයි. ඊළඟට ඒ කුසේ මහා බෝධිසත්ත්වයෝ ඉන්නෙ එරමිණියා ගොතාගෙන උඩ පැත්තට හැරිලා. සාමාන්‍යයෙන් දරුවො ඉන්න වකුටු වෙලා. සාමාන්‍යයෙන් කුසක දරුවෙක් ඉන්නෙ, වැස්ස වෙලාවක වඳුරු පැටියෙක් ඉන්නවා වගේ. ඉතින් ඔළුව පහළට හැරිලා. මහා බෝධි සත්ත්වයෝ එරමිණියා ගොතාගෙන ධර්මාසනයේ ඉන්න දේශකයාණන් වහන්සේ නමක් වගේ අම්මගේ කුසේ ඉන්නෙ. ඒ සියල්ල ආශ්චර්යයි අද්භූත කාරණා. ඊටපස්සෙ අපේ මහා බෝධිසත්ත්වයන් වහන්සේ මව් කුසින් බිහිවෙන කාලෙ ආවා. එදා මහාමායාදේවීන් වහන්සේට හිතුනා තමන්ගේ වේදේහ නුවරට, තමන්ගේ මව්ගේ රටට යන්න ඕන කියලා. කපිලවස්තුවත්, වේදේහ නුවරත් අතර ලුම්බිණි සල් වනය තියෙන්නෙ. ලුම්බිණි සල් වනය මහාමායා දේවියගේ ආච්චිගේ නමින් හදපු සල් වනයක්. ඒ සල් වනය ළඟින් යනකොට යන්න ආසා හිතුනා. ඉතින් මුලු වනයේම මල් පිපිලා, අකලට මල් පිපිලා. සාමාන්‍යයෙන් වෙසක් මහේ මල් පිපෙන්නෑ, අකලට මල් පිපිලා. එතකොට මල් පිපිලා, හරි පුදුමයි. ඉතින් හැමතැනම ඇවිදලා ගොඩාක් ලස්සන මල් පිරිලා තියෙන අත්තක් තිබුනා. ඒ අත්ත අල්ලන්න අත ඔසවනකොට අත්ත පාත් වුනා. ආන්න ඒ වෙලාවේ තමයි වෙසක් පුන් පෝය දවස. වෙසක් පුන් පෝය දවසේ පෙරවරු කාලයේ ඉර මුදුන් වෙලා නෑ, ආන්න ඒ මොහොතේ ඒ දේවියට දරුවා ලැබෙන්න ළංවුනා. අර එරමිණියා ගොතාගෙන ඉන්න දරුවා මහා බෝධිසත්ත්වයන් වහන්සේ එහෙම්මම පා දික් කරනවා. වෙන කෙනෙක් දරුවෙක් බිහි කරන්නේ ඉඳගෙන හෝ නිදාගෙන. බෝසත් මව, උතුම් මහාමායා දේවීන් වහන්සේ දරුවා බිහි කලේ, සිටගෙන. වෙන දරුවෙක් බිහිවෙන්නේ හිස පැත්තෙන් ඉස්සෙල්ලා. මහා බෝධිසත්ත්වයන් වහන්සේ පා දික් කලේ, ඇයි ඉඳගෙනනෙ ඉන්නෙ. එහෙම්මම

පා දෙක දික් කලා. බෝධිසත්ත්වයන්ගේ ඉස්සෙල්ලා බිහිවෙන්නෙ පා දෙක. තව පුදුම අසිරියක් තියෙනවා. ඒ තමයි බලන්න ලොව්තුරා සම්බුදු කෙනෙක්ගේ මේ ලෝකයේ මිනිස්සු ඉස්සෙල්ලාම මව් කුසින් බිහිවෙනකොට දරුවාගේ දකින්නෙ සිරිපා. බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාලා ඒ දේහය ආදාහනය කරන්න කලින් අවසානෙටත් මිනිස්සු දැක්කෙ මොකක්ද, ඒ සිරිපා. ඇයි අර සඳුන් දරෙන් චිතකය වට කරලා තියෙද්දි මහා කාශ්‍යප මුණිඳුන්ට වඳින්න සිරිපා මතුවෙනවානෙ. මම හිතනවා මෙකාක්හරි ආශ්චර්‍ය්‍යයක් ඇති. මේ ලෝකෙට ඉස්සෙල්ලාම දකින්න ලැබෙන්නෙත් සිරිපා, අවසානෙට දකින්න ලැබෙන්නෙත් සිරිපා. ඉතින් ඒ සිරිපා සඟලත් එක්ක එහෙම්මම බිහිවෙනවා. ධර්මාසනයකින් දේශකයාණන් වහන්සේ නමක් සුවසේ බහිනවා වගේ. ඊටපස්සෙ කිසිම කැතකුණු මල නෑ, සාමාන්‍යයෙන් වෙන දරුවෙක් නම් ඉපදිච්ච ගමන් ඒ දරුවාගෙ කන්වල ඇස්වල කටේ ගොඩාක් අශුචි මලමුත්‍රා ගොඩාක් පිරිලා තියෙනවා. සෝදනවා, ඊටපස්සෙ එක එක ද්‍රව්‍ය දාලා ඒ කන්සිදුරු වල තියෙන ජරාව එළියට ගන්නවා. පෙකණිවැල කපනවා. ඉතින් ඒ මොකවත් නෑ, එහේම්මම පහළ වුනා. මව්කුසින් බිහි වුනා. මහා බ්‍රහ්මයා තමයි ඉස්සෙල්ලාම අතට ගන්නෙ, ශුද්ධාවාස බ්‍රහ්මයා, රන් සළුවකට. රන් සළුවකට ශුද්ධාවාස බ්‍රහ්මයෙක් ගන්නෙ. එතකොට තවත් ආශ්චර්‍ය්‍යයක් තියෙනවා. මහා බෝධිසත්ත්වයන් වහන්සේ ඉස්සෙල්ලාම අතට ගත්තෙ කාමයේ වීතරාගී වූ අනාගාමී වූ බ්‍රහ්මයෙක්නෙ. කාමයේ වීතරාගී, කාම සංකල්පනා නැති කෙනෙක් තමයි මහා බෝධිසත්ත්වයෝ වඩාගත්තෙ. බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ අවසානයට ඒ බුදුසිරුර ස්පර්ශ කලේ කවුද. පරම විරාගී වූ මහාකාශ්‍යප මහරහතන් වහන්සේ. මං හිතනවා මොකක්හරි අසිරියක් ඇති. ඊටපස්සෙ පින්වතුනි, ඒ බ්‍රහ්මයාගෙ අතින් සතරවරම් දෙවිවරු. සතරවරම් දෙවිවරු කියනවා, මහාමායා දේවියට, අත්ථමනා දේවීහෝති මහේසක්කෝ තේ පුත්තෝ උප්පන්නා. දේවිය සන්තෝෂයට පත්වෙන්න. මහානුභාවසම්පන්න පුත්‍රයෙක් ඔබට පහළ වුනා. ඉතින් මහා බෝධිසත්ත්වයන් වහන්සේ වඩාගන්න හදනකොටම මහා බෝධිසත්ත්වයන් වහන්සේ මිහිමඩලේ සිරිපා තබනවා. මිහිමඩලේ සිරිපා තැබුනට පස්සේ මේ මිහිමඩල දෙබෑ කරගෙන පියුම් මතුවුනා. සත් පියරවක් උතුරු දිශාවට වැඩියා. එතකොට ඒ මහා බෝධිසත්ත්වයන්ගේ උතුරු දිශාව මේ කතාව විලෝකනය කරනකොට දැන් අපි ධර්මසභා මණ්ඩපයක දේශකයාණන් වහන්සේ වැඩ හිටියාට පස්සෙ කෙළවරට යනකල් මිනිස්සු ටික පේනවානෙ. ඒ වාගේ සිදුහත්

කුමාරයාගේ, මහා බෝධිසත්ත්වයන්ගේ නෙත් වලට මේ සක්වලේ කෙළවර දක්වා පෙනුනා කියනවා. කෙළවර දක්වාම පෙනුනේ, සියලු දෙනා වැඳගෙන හිස පාත්කරගෙන හිටපු හින්දා. ආන්න ඒ තැන එක ඇඟිල්ලක් අහසට ඔසවලා දේශනා කලා. අග්ගෝ හමස්මි ලෝකස්ස. ජෙට්ඨෝ හමස්මි ලෝකස්ස. සෙට්ඨෝ හමස්මි ලෝකස්ස අයමංති ජාතිනා නත්ථි ජාති පුනබ්බවො, මම ලෝකෙට අග්‍රයි. ජ්‍යෙෂ්ටයි, ශ්‍රේෂ්ටයි, මේ මාගේ අන්තිම උපතයි, ආයෙ උපතක් නෑ කියලා. ඒක බුදුරජාණන් වහන්සේගේ ආශ්චර්‍යයී අද්භූත කාරණා. අයමෙත්ත ධම්මතා. බුදුරජාණන් වහන්සේලාගෙන් බුදුරජාණන් වහන්සේලාට සිදුවන සිදුවීම්. අතීතයේ මෛත්‍රී තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේත් ලෝකෙට පහළ වෙන්නෙ ඔය විදියට. ඔය විදියට ලෝකෙට පහළ වෙන්නෙ. ඊටපස්සෙ මිහිමඬල කම්පා වෙන්න ගන්නවා. මේ ලෝකෙ යම් තාක් මල් හැදෙන වෘක්ෂ තියෙනවද, ඒ සියලු වෘක්ෂයන්ගේ මල් පිපෙන්න ගන්නවා. එල හැදෙන වෘක්ෂයන්ගේ එල හැදෙන්න ගන්නවා. අප්‍රමාණ අසිරියක් ලෝකයේ සිද්ධ වෙනවා. දෙවිවරු දිව්‍ය සළු අහස සිසාරා සිරස වටේ කරකවමින් දිව්‍ය සැණකෙළි පවත්වනවා. දිව්‍ය දුන්දුදය වාදනය වෙන්න ගන්නවා. නොයෙක් වාදන සිද්ධ වෙන්න ගන්නවා. ප්‍රීති ඔල්වරසන් ඇහෙන්න ගන්නවා. මේ වනාහී ලොවට සම්බුදු කෙනෙක් පහළ වීමේ අසිරියයි. ඊටපස්සෙ ලෝකාන්තරික් නිරය දක්වාම පින්වතුනි ආලෝකයක් පැතිරිලා යනවා. ලෝකාන්තරික නිරය කොහෙද තියෙන්නෙ. ලෝකාන්තරික නිරය තියෙන්නෙ මේ සක්වලින් එහා. සක්වලවල් තුනක් එකතුවුනාට පස්සෙ, පාත්‍රා තුනක් රවුම් තුනක් එකතු වුනාට පස්සෙ මැද හිඩැසක් තියෙන්නෙ, ඒ වාගෙ තමයි ලෝකාන්තරික නිරය තියෙන්නෙ, එතෙන්ට එළියක් යන්නෑ, ආලෝකයක්, කිසිම සම්බන්ධයක් නෑ, මහා තද සීතලක් තියෙන මහා අන්ධකාර නිරයක්. බුදුරජාණන් වහන්සේගේ ධර්මය විකෘති කරපු, ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ විෂයෙහි මහා පව් කරපු සත්ත්වයා ලෝකාන්තරික නිරයේ උපදිනවා. ඒ සත්ත්වයන්ට අඳුර වැඩි නිසා කිසිම සත්ත්වයෙක් දන්නෙ නෑ. මහා විශාල ඇඟවල් තියෙන්නෙ. යොදුන් ගාණක ඇඟවල් තියෙන්නෙ. පාත්‍රා තුනක් තුන් පැත්තෙ තිබ්බට පස්සෙ අර කොහේ හරි තැනක එල්ලෙන්න වවුලෙක් එල්ලෙනවා වගේ අර සක්වලවල්වල කෙළවරේ එල්ලෙන්න හදනවා කියනවා ඒ නිරි සතා. ඊළඟට සීතලෙන් ඇඟ පුපුරනවා කියවනවා. අප්‍රමාණ සත්ත්වයෝ ඉන්නවා එතන. හැම සක්වලකින්ම විසිවෙච්ච මහා පව්කාර පිරිස ඒ නිරයේ ඉන්නවා. ඉතින් ඒ නිරයට ආලෝකයක් නෑ. සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ලෝකයේ පහළ

වෙද්දි විහිදී යන සුදුවන් වූ රශ්මි ධාරාවේ අනුහසින් ඒ රශ්මි ධාරාව ලෝකාන්තරික නිරයටත් යනවා. හිරුගේ සඳුගේ එළියටත් වැඩියි. එතකොට තමයි ඒ සත්ත්වයො දන්නේ භවත්නි තවත් ඉන්නවානෙ නිර සත්තු කියලා. ඉතින් මේ අසිරියත් එක්ක පහළ වෙන්නෙ මහා බෝධිසත්ත්වයන් වහන්සේ. මෙහෙමත් මහා බෝධිසත්ත්වයන් වහන්සේ නමක් පහළ වෙනවා. ශාස්තෘන් වහන්සේ නමක් මෙහෙම පහළ වෙනවා කියලා වෙනත් කොයි දහමකද කියන්න තියෙන්නෙ. මේ තුන් ලෝක ධාතුවේම මෙවැනි අසිරියක් එක්ක පහළ වුන උත්තමයන් වහන්සේ කවරහුද? ඒ නිසා මේ මිහි මඩල සනසා සනසා ලෝකයට අසිරිමත් ප්‍රාතිහාර්ය සිදුකොට සිදුකොට පහළ වූ බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා බුදුරජාණන් වහන්සේ සරණ යන්න පින්වත්නි. ඒ උතුම් ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝ රත්නය සරණ යන්න. මේ ඒකාන්තයෙන් සිදුවූ සත්‍යයක්නෙ මා කියන්නෙ. එදා ඒ පුංචි කුමාරයා ඉපදුනු මොහොතේ තැබූ පියවර පොලොවේ නෙළුම් මලත් සමඟ කිදා බැස්ස සටහන් වෙච්චි සටහනක් සේ සුන්දර පාෂාණයක අදත් පොළොවෙන් අඩි දහයක් විතර යට, පහුගිය කාලෙ කැණීම් වලින් හම්බවෙලා, අදත් ලුම්බිණියේ පුංචි සිරිපා තියෙනවා දකින්න. පහුගිය කාලෙ විශාල භූමිකම්පා සුළිසුළං එද්දි ලුම්බිණියට කිසිම කම්පාවක් හෝ සුළඟක් බලපෑවෙ නෑනෙ. ඒ අසිරිය අදටත් තියෙනවානෙ. අපේ තැනකට අපේ බුදුරජාණන් වහන්සේ ළඟට යනවා වගේ දැනෙනවානෙ ලුම්බිණියට ගියාම. ඉතින් ඒ නිසා මේ අසිරිය තේරුම් ගන්න. මුලාවෙන්න එපා පින්වතුනි අපේ මේ ලංකාවට තැනක් ගන්න ඕන කියලා. එහෙම නෙවෙයි බුදුවරුන්ට වදින්න. බුදුවරුන් පහළ වූ ඒ භූමියට වදින්න. උතුම් ජම්බුද්වීපයට, භාරතයට. ඊටපස්සෙ පින්වතුනි මේ අසිරියත් එක්ක තමයි අපේ මහා බෝධිසත්ත්වයන් වහන්සේ පහළ වෙන්නෙ වෙසක් පුන් පොහෝ දවසක. ඔබටත් වාසනාව ලැබුනා මේ වෙසක් මාසයේ මේ විදියට අපේ උතුම් ශාස්තෘන් වහන්සේගේ අසිරිමත් ජීවිතය ගැන අහලා හිතේ පහන් බවක් ඇතිකරගන්න. පින්වතුනි ලොව කිසිම දහමක මේ වගේ විස්තර නෑ, මේ වගේ අසිරියක් නෑ, මේවා ගොතපු ඒවා නෙවෙයි. මේවා ඒකාන්තයෙන් සත්‍ය දේවල්. ඊටපස්සෙ පුංචි කුමාරයා මාළිගාවට වැඩැම්මුවා. සඳක් මෝරනවා වගේ පුංචි දරුවා මෝරන්නෙ. සොඳුරුයි, සියලු දෙනාට ප්‍රීතිය ඇති කලා. මහාමායාදේවියට අප්‍රමාණ සතුටක් ඇතිවුනා. මේ කාලෙ කාලදේවල තාපසයා ඒ කියන්නෙ අසිත තාපසතුමා හරි ධ්‍යාන ලාභියෙක්. ඒ වෙනකොට පෘථිවි මණ්ඩලයේ ඉන්න ධ්‍යාන තාපසකමින් ආනුභාවසම්පන්න වැඩිම තාපසයින්

වහන්සේ තමයි අසිත තාපසතුමා. එතුමා දිව්‍යලෝකෙට තමයි යන්නෙ දවල් භෝජනයෙන් පස්සෙ විවේක ගන්න. මුළු දිව්‍ය ලෝකෙම දිව්‍ය සළු සිසාරා දිව්‍ය පිළි ඔසවමින් අප්‍රමාණ දිව්‍ය සැණකෙළි. ඉතින් බලන්න මනුස්ස ලෝකෙ මිනිස්සු බුදුවරු ගැන නොදන්නවා වුනාට දෙවිවරු දන්නවා බුදුවරු ගැන. සිදුහත් කුමාරයා, බුදුරජාණන් වහන්සේ බෝධිසත්ත්ව කාලෙ සම්මා සම්බුදු වෙන්නත් කලින් ඒ වාගේ ප්‍රීති ඝෝෂා පවත්වනවානම් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළවෙලා දෙව්ලොවට ගිහිල්ලා මාස තුනක් ධර්මය දේශනා කරලා අනන්ත අපරිමාණ දෙවිවරු මගඵල යවලා ඒ බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවෙ. අද බුදු ගුණ සිහිකර කර කොයිතරම් නම් දෙවිවරු ඇතිද. ඉතින් කාලදේවල තාපසයින් වහන්සේ අහනවා සුර අසුර යුද්ධෙ දිනපු දවසේවත් මේ දෙවිවරුනි නුඹලා මෙතරම් නම් ප්‍රීති වුන් නෑ, මට මතකයි ඒ සිදුවීම. මං අහන්නේ මේකයි, කුමක්ද මේ සැණකෙළිය. කියනවා තාපසයින් වහන්ස, කපිලවස්තුවේ සුද්ධෝදන මාළිගාවේ අන් අයට බොහෝ සැප ඇතිකරලා දෙන කුමාරයා උපන්නා. දැන් මම මේ කියන ඒවා මං මේ හිතෙන් හදලා කියන ඒවා නෙවෙයි. සුත්ත නිපාතය ගත්තොත් නාලක කියලා සූත්‍රයක් තියනෙවා. ඒ නාලක සූත්‍රයේ මේ ඔක්කෝම සිදුවීම් ටික තියෙනවා. ඒ නාලක සූත්‍රය අපි මීට කලින් ධර්ම දේශනාවක කරලා තියෙනවා. ඉතින් ඒ දේශනාවත් අහන්න. සුත්ත නිපාතයේ. ලොකු ස්වාමීන් වහන්සේ පරිවර්තනය කරලා තියෙනවානේ, අපේ බුදුසමිඳු තවමත් වැඩ ඇත කියලා, නාලක සූත්‍රය බලන්න. ඒකෙ තියෙනවා දිව්‍ය ලෝකෙ සැණකෙළි වල ස්වභාවය. ඉතින් අසිත තාපසතුමාට පුදුම හිතිලා එයින් අතුරුදහන් වෙලා කපිලවස්තුවේ මාළිගාවේ පහළ වුනා. කාලදේවල තාපසයින් වහන්සේ මහා බෝධිසත්ත්ව කුමාරයාණන් වහන්සේ දකින්න රජතුමාට කියාහිටියා. රජතුමාට හරී සතුටුයි. කාලදේවල තාපසයින් වහන්සේ දකින්නත් අමාරුයි. නිතර හොයාගන්නත් අමාරුයි. උන්වහන්සේ මහා වනයේ දැහැන් වඩන කෙනෙක්. මගේ පුත්‍රයා ඉපදුනු දවසේ ආවනේ කියලා සන්තෝසෙට මහා බෝධිසත්ත්වයන් වහන්සේ සිනිඳු සළුවෙන් ඔතාගෙන තාපසයින් වහන්සේ ළඟට ගේනවා. පින්වතුනි, ඒ තාපසයින් වහන්සේගේ පා ළඟ තියලා වන්දනාවක් ගත්තොත් ඒ රාජ කුමාරවරුන්ට දීර්ඝායුෂ සම්පත්තිය ලැබෙනවා කියලා රටේ ප්‍රසිද්ධයි. ඒ නිසා කාලදේවල තාපසතුමාගේ පා ළඟින් ආශිර්වාද ගන්න පුදුම විදියට රජවරුන් කැමතියි. ඒ නිසා මේ තාපසයින් වහන්ස මේ මාගේ කුමාරයා කියලා ඒ කාලදේවල තාපසතුමාගේ පා ළඟ තියන්න දරුවාගේ දෙපා තමන්ගෙ පැත්තට හරවලා

සිරස තාපසයින්ගේ පැත්තට හරවලා පා ළඟ තියන්න, බිම තියන්න පාත් කලා, එහෙම පාත් කරනකොට ඒ මොහොතේම දරුවා හැරුනා අනිත් පැත්තට. මෙහෙම අත්දෙක කැරකුනා. එහෙම කැරකිලා අර පුංචි දහසක් අර ඇති චක්‍ර ලක්ෂණයෙන් සමන්විත ඒ සිරිපා ළඟ පාත් කරන්න හදනකොටම තාපසයින් වහන්සේගේ ජටාවේ වැදුනා. ඒ ජටාවේ වැදිච්චි ගමන්ම, ඒ තාපසයින් වහන්සේ ඍද්ධි සම්පන්නයිනෙ. එහෙම්මම නැගිට්ටා. ඒ තාපසයින් වහන්සේට උපන්තේකට මේ වෙනකල් හිසේ යමක් ස්පර්ශ වෙලා නෑ. පුංචි දරු සිඟිත්තාගේ පා ස්පර්ශ වුනා. ඒකාන්තයෙන්ම තුන් ලෝකයට අග්‍රයි, මහා උත්තමයාණන් වහන්ස කියලා දණ ගහලා පුංචි දරු සිඟිත්තාගේ, මහා බෝධිසත්ත්වයන් වහන්සේගේ සිරිපා දෙක නළලේ තියාගත්තා වන්දනා කරගෙන. දරාගන්න බෑ කිසිකෙනෙකුට මේ වෙච්චි සිදුවීම. ඇයි ඒ කාලෙ ජම්බුද්වීපයේ සියලු දෙනාම වඳින්නේ කාලදේවල තාපසයින් වහන්සේට. එතුමා විවේක ගන්න යන්නෙ දිව්‍යලෝකෙට. ආන් ඒ වෙලාවෙ තමයි තාත්තා නිකම්ම දණ ගැහුවෙ. සුද්ධෝදන රජතුමා, මාගේ පුත්‍රය මේ පළවෙනි වන්දනාවයි කියලා. මහාමායා දේවීන් වහන්සේගේ මුහුණේ සිනාව පැතිරිලා ගියා. ඒත් එක්කම තමයි ඇඬුවෙ. අනේ ඇයි ස්වාමීනී අඬන්නෙ. නෑ මං මේ සිනහ වුනේ, මේ උත්තමයා මේ උතුම් කුමාරයා තුන් ලෝකෙටම අග්‍ර වෙනවා. මං මේ ඇඬුවෙ ඒ වෙනකොට මගේ ආයුෂ නෑ, එතකොට බලන්න පින්වතුනි, ඒ තාපසයින් වහන්සේ අරූප ධ්‍යාන වඩනවා. ඒ අරූප ධ්‍යානයෙන් කළුරිය කලොත්, අසංඥ ධ්‍යානයෙන් කළුරිය කලොත් අසංඥ ලෝකවල උපදින්නෙ, කල්ප හැටදාහ අසූදාහ ඒ ලෝක වල ආයුෂ තියෙනවා. මනුස්ස ලෝකෙත් එක්ක සම්බන්ධ නෑ. ඇස කණ නාසාදී ඉන්ද්‍රියන් වලට හිත වැඩෙන්නෑ. අරූප ධ්‍යාන. එතකොට කොච්චර බුදු කෙනෙක් බණ කිව්වත් ඒ ලෝකෙ ඉපදුනු අයට ඇහෙන්නෑ. නමුත් ඒ ලෝකෙ අනිත්‍යය විදර්ශණාව ගැන දන්නැති නිසා ඒ සමාධිය වෙනස් කරගන්න අර තාපසයින් වහන්සේ දන්නෙ නෑ එතනින් එහාට. දැන් අපේ බුද්ධ ශාසනේත් අරූප ධ්‍යාන වඩනවා කියලා එකක් තියනෙවා. නමුත් ඒ අරූප ධ්‍යාන වලින් විදර්ශණාවට හරවලා මාර්ගඵල ලබනවා. දැන් මේ අසිත තාපසතුමාට ඒ සංස්කාරයන්ගේ අනිත්‍ය ස්වභාවය, හේතුඵල දහමින් හටගෙන, හේතුව වෙනස් වීමෙන් ඵලය වෙනස් වෙනවා කියන එක ඒ ධර්මය ඔවුන් දන්නෑ, ඒ නිසා ඔවුන්ට පේන්නෙ මැරිලා උපදින අඳුරක් තියෙනවා. ඊටපස්සෙ මොකද වුනේ, කාලදේවල තාපසයින් වහන්සේ ඇඬුවා ඒ වෙනකොට නෑ මම කියලා. ඊටපස්සෙ කාලදේවල තාපසයින් වහන්සේ ඒ

මොහොතේම ආකාශෙන් වඩිනවා තමන්ගේ නැගණියගේ පුතා, ඒ වෙනකොට තරුණ පුංචි දරුවෙක්. කිව්වා පුත්‍රය, ඒ දරුවාගේ නම නාලක. පුත්‍රය, සුද්ධෝදන මාළිගාවේ තුන් ලෝකයටම උතුම් මහා මුණිවරයා පහළ වුනා. මෙතනින් අවුරුදු තිස් පහක් ගිය තැන ඒ උත්තමයන් වහන්සේගේ ශ්‍රී මුව මඩලෙන් මිනිස්සුන්ගේ දුක් දුරු කරන වචන ටික ඇහෙනවා. මිනිස්සුන්ගේ හදවතේ කෙලෙස් සුණුවිසුණු වී යන වචන ටික ඇහෙනවා. මහා බ්‍රහ්මයාගේ පටන් සියලූම දෙනා ඒ උත්තමයා ළඟ දණ ගහන දවස එනවා. මෙයින් අවුරුදු තිස්පහක් ගිය තැන. පුත්‍රය මා ඒ වෙනකොට නෑ. මගේ පරම්පරාවෙන් කෙනෙක් හරි මේ දුක නැති කරගනිත්වා. නාලක උඹ මහණ වෙන්න ඕන. නාලක උඹ පැවිදි වෙන්න ඕන. ඒ උත්තමයා වෙනුවෙන්. යම් දවසක ඒ බුද්ධ කියන වචනය ලෝකෙ පැතිරිලා යනවාද මාගේ ප්‍රිය පුත්‍රය නාලක, උඹ ගිහිල්ලා ඒ මුණිවරයාගේ දුක් නැති කරන මුණි දහම අහන්න ඕන. ඔය විදියට තමයි අසිත තාපසතුමාගෙන් අවවාද ලැබුනෙ. ඒ වෙලාවෙම කසාවතක් අරන් පොරොව ගත්තා. පැන් කෙණ්ඩියක් අතට ගත්තා. කිඹුල්වත් ප්‍රදේශයට, කිඹුල්වත් දිශාවට සිරසේ අත්දෙකත් තියාගෙන සාදුකාරයක් දුන්නා. ඒ අනාගතේ පහළ වෙන මුණිවරයා වෙනුවෙන් මාගේ පැවිද්ද වේවා කියලා. දිශාවකට හැරිලා ගියා. ඔය තමයි මේ තුන් ලෝක ධාතුවෙන්ම අපේ බුදුරජාණන් වහන්සේගේ නාමය වෙනුවෙන් පැවිදි වුන පළවෙනි කෙනා නාලක. ඒ උත්තමයා ඊටපස්සෙ සොයා සොයා බුදුරජාණන් වහන්සේ සොයාගෙන එන හැටි, උන්වහන්සේ බණ අහන හැටි, නාලක ප්‍රතිපදාව නම් උතුම් ප්‍රතිපදාවක් තියෙනවා, ඒ ප්‍රතිපදාව, උන්වහන්සේ පිරිනිවන් පාන හැටි, මේ බුද්ධ ශාසනයේ ඉස්සෙල්ලාම පිරිනිවන් පෑවෙත් නාලක මහරහතන් වහන්සේ. ඒ විස්තර ඔක්කෝම ටික නාලක සූත්‍රයේ තියෙනවා, සුත්ත නිපාතයේ. උන්වහන්සේ පිරිනිවන් පාන්නෙත් බුදුරජාණන් වහන්සේගෙන් බණ අහලා ගිහිල්ලා දවස්, අනාත්මලක්ඛණ සූත්‍රයෙන් පස්සෙ බාරාණාසියට ඇවිල්ලා තමයි ධර්මය අහන්නෙ. ගිහිල්ලා එක්තරා කන්දකට ගිහිල්ලා ඒ කන්දේ හේත්තුවෙලා බුදුරජාණන් වහන්සේ ඉන්න දිශාවට වැඳගෙන එහෙම්මම පිරිනිවන් පානවා. පුදුම සහගත දේවල් මේ බුද්ධ ශාසනයේ සිද්ධ වුනා. සඳක් වැඩෙනවා වගේ මගේ බෝධිසත්ත්ව කුමාරයන් වහන්සේ වැඩෙන්නෙ. ඊටපස්සෙ දවස් පස්වෙනි දවසේ සිදුහත් කුමාරයාට නාමය තැබීම එනවා. බෝසත් කුමාරයාට. එකසිය අටක් බ්‍රාහ්මණයන්ට කිරිආහාර ආදී මංගල සම්මත දේ භෝජන පිණිස දීලා එයින් තෝරාගත්තු ප්‍රධාන

බ්‍රාහ්මණයන් අටදෙනාගෙන් විස්තර අහනවා. පෙනෙන්නට තියෙන දෙතිස් මහා පුරුෂ ලක්ෂණ එකින් එක විමසා බලලා, ආශ්චර්‍යයි රජතුමනි, අද්භූතයි, තුන් ලෝකෙටම අග්‍ර වූ මහා උත්තමයෙක් මේ වැඩ ඉන්නෙ. ඇඟිලි දෙකක් ඉස්සුවා. ගිහිගෙදර හිටියොත් එහෙම සක්විති රජ වෙනවා. පැවිදි වුනොත් දුක් දුරු කරන මුණිවරයා වෙනවා. සම්මා සම්බුදු කෙනෙක් වෙනවා. කොණ්ඩඤ්ඤයන් වහන්සේ දුටුවා ඌර්ණ රෝම ධාතුව සුදුවන්ව කැරකී තිබෙන හැටි, ඒකාන්තයෙන් බුදු වෙනවා. එක ඇඟිල්ලක් ඉස්සුවා. ඒකාන්තයෙන් සම්බුදු වෙනවා කියලා. ඉතින් ඒ නිසා පින්වතුනි ඒ වෙලාවෙ ඉඳලා තියෙනවා, රාම, ධජ, ලක්ඛන, මන්ති, කොණ්ඩඤ්ඤ, භෝජ, සුයාම, සුදත්ත ඒ අටදෙනා වහන්සේ. එයින් වයසක පස්දෙනා මැරුණා පස්සෙ කාලෙ. තව කොණ්ඩඤ්ඤයන් වහන්සේගේ පවුලේ තව හිටියා භෝජ සුයාම ආදී ඒ අයගේ පුතාලා හතරදෙනයි, කොණ්ඩඤ්ඤයන් වහන්සේයි තමයි පස්වග භික්ෂූන් වුනේ. අනිත් ඔක්කෝම නැතිවෙලා. කොණ්ඩඤ්ඤයන් වහන්සේ ඒ වෙනකොට තරුණ බ්‍රාහ්මණයෙක්, අවුරුදු දාසයක විතර. ඉතින් ඒ නිසා ලොවට සිද්ධියත්, අර්ථයත් සලසා දෙන හෙයින් සිද්ධාර්ථ කියන නාමය තිබ්බා. දෙවිවරු ප්‍රීතිඝෝෂා පැවැත්තුවා. මොන නාමය තිබ්බත් අනාගතයේ මේ සියල්ල වෙනස් වෙලා මව්ද නොදෙන්නා වූ පියාද නොදන්නා වූ, බ්‍රාහ්මණයන්ද නොදෙන්නා වූ, තුන් ලෝකයේ මහා පුණ්‍යවන්තයාට ලැබෙන නාමය ලැබෙනවා, බුද්ධ කියන නාමය. ඒ බුද්ධ කියන නාමය කවුරුත් දෙන එකක් නෙවෙයි. ඒක සම්මා සම්බුද්ධ කෙනෙකුටම ලැබෙන එකක්. ඒකනේ උපක ආජීවකයාට කියන්නෙ අනන්තජිනබුද්ධ කියලා. ඉතින් ඒ නිසා පින්වතුනි ඔය විදියට නම් තැබීමේ මංගල්‍යය සිද්ධ වුනා. හත්වෙනි දවස වෙනකොට මහාමායා දේවීන් වහන්සේ කළුරිය කලා. ඒක අයම්තධර්මතා, ඒක ධර්මතාවයක්. ඒ සිදුහත් කුමාරයා ඉපදුනු නිසාම මහාමායා දේවිය මැරුනා නෙවෙයි, ඒ එතුමියගේ මරණය බලලා තමයි ඒ මහාබෝධිසත්ත්වයෝ උපදින්නෙ. හේතුව ඒ කුසේ තවත් කෙනෙක් උපදින් නෑ. ඒ වගේම ඈ සමඟ තවත් කෙනෙක් සිටින්නෑ, ඒ මහා පුණ්‍යවන්ත දරුවෙක් බිහිකරපු පින ඈ සතුයි. ඈ එතනින් චුතවෙලා ගිහිල්ලා තව්තිසාවේ දිව්‍යරාජයෙක්, කුමාරයෙක්, පිරිමි උපතක් ලබනවා. මාතෘ දිව්‍ය පුත්‍රයා කියලා. ඒ මව්ගුණ සළකලා, මව්ට කෙළෙහිගුණ සලකන්න තමයි බුදුරජාණන් වහන්සේ දෙව්ලොව වැඩලා මාස තුනක් විජම්පිටකයෙන්, අභිධර්ම පිටකයෙන් දහම් දෙසලා, තමන්ගේ මව්, දිව්‍ය රාජයාව සෝතාපන්න බවට පත්කරන්නෙ. පුත්‍රයෙකුට තමන්ගේ

මැණියන්ට මෙවැනි වූ කෙළෙහිගුණයක් දැක්වීම හැර වෙනත් අග්‍ර දේවල් තියෙයිද. අපේ බුදුරජාණන් වහන්සේ යම් කුලයක ඉපදුනාද, ඒ ශාක්‍ය වංශයටම යහපත සැලසුනා. ඊටපස්සෙ සඳක් මෝරන්නා වගේ මගේ බෝධිසත්ත්වයන් වහන්සේ වැඩෙන්නෙ. සර්වමිත්‍ර කියන බ්‍රාහ්මණයා තුළින් සකල ශිල්පය හැදෑරුවා. සියලු දෙනාම සමසේ සියලු ශිල්ප හදාරනවා. ඒ සියලු දෙනා අතරේ සුලු කාලයකින්, ඉතාම සුලු කාලයකින් අතිශයින් සුලු කාලයකින් සියලු ශිල්ප කෙල පැමිණියා. ඒ නිසා තමයි අර පවුලේ අය සැක කරන්නෙ, මේ දරුවා පොඩි දවසයි ගුරුවරු ළඟ හිටියෙ, ශිල්ප - ඇයි රාජ වංශයේ අය අවුරුදු ගණන් ශිල්ප හදාරනවානෙ - ඊටපස්සෙ තමයි සොළොස් වයස එනකොට, හැබැයි තව එකක් තියෙනවා, ඒ තමයි එදා වෙසක් පුන් පෝය දවසේ ලුම්බිණි සල් උයනේ මහා බෝධිසත්ත්වයන් ඉපදෙන වෙලාවෙමයි යශෝධරාව ඉපදුනේ. ජයසිරිමහාබෝධීන් වහන්සේ මිහිමඩලේ මැද හටගත්තේ, ඡන්න ඇමතියා ඉපදුනේ, ආනන්ද කුමාරයා ඉපදුනේ, ඊළඟට කන්ථක අශ්වයා ඉපදුනේ, කාළුදායි අමාත්‍යයා ඉපදුනේ, සතර මහා නිධානය පහළ වුනේ. ඔය සහජාත වස්තු හතම එක මොහොත පහළ වුනා, සිදුහත් කුමාරයා මිහිමඩලේ පහළ වෙන වෙලාවේ මේ තුන් ලෝක ධාතුවේම කාරණා හතයි හටගත්තෙ, අටක් නෑ, ඒ නිසයි ඒවට සහජාත කියන්නෙ. ඊටපස්සෙ ඒ සමගම ඉපදුණු ඒ කරුණු හත, ඡන්න කුමාරයත් වැඩෙනවා. ඊටපස්සෙ පින්වත්නි දැන් මහා බෝධිසත්ත්වයෝ හරීයට නුවණයි. දාසය වෙනි වියේදී තවත් කාරණාවක් තියෙනවා, ඒ තමයි, දැන් මහාමායා දේවිය නැතිවුනානෙ දවස් හතෙන්. එදාම තමයි නන්ද කුමාරයා ඉපදුනේ, ප්‍රජාපතියට. එදාමයි ඉපදුනේ. නන්ද කුමාරයා කිරිමවුන්ට දීලා, කවුරුත් නොබීපු කුළුදුල් කිරි ටික මහාප්‍රජාපතිය සිද්ධාර්ථ කුමාරයාට පොවනවා, අම්මලා මෙහෙම තමන්ගෙ කුසින් වදපු දරුවා කිරි අම්මලාට දීලා වෙන දරුවෙක් අරන් තුරුල් කරගනියිද, කිරි නොදී තියෙද්දි. ඒ තමයි ප්‍රජාපතී උත්තමාවියගේ ආනුභාවය. සසරේ පුරාගෙන ආපු ගුණධර්ම වල තේජස. කරපු ප්‍රාර්ථනාව. සමහර විට එකම දරුවාට අම්මලා දෙන්නෙක් විදියට ප්‍රාර්ථනා කරගෙන එන්න ඇති. අපිට තේරෙන්නෑ, ඒ නිසා ඇත්තටම බුද්ධ මාතා කියන නාමය ආවෙ මහාමායාවට නෙවෙයි, ප්‍රජාපතී උත්තමාවියට. ඉස්ඉස්සෙල්ලාම කිරි දුන්න අම්මාට, බුද්ධමාතා ප්‍රජාපතී උත්තමාවිය. ඊටපස්සෙ මේ බලන්න අපේ සම්බුදුරජාණන් වහන්සේගේ ජීවිත කතාවේ තියෙන අසිරිය. මේ ලෝකෙ වෙන දහමක වෙන නායකයෙක් තුලා ඔවැනි වූ අසිරියක් තියෙයිද. අපිට තරම් පැය ගාණක් කිය කියා සතුටින් සොම්නසින්

සිටින්න තරම්. අපේ බුදුරජාණන් වහන්සේ සරණ යන්න ලැබීම අපිට කොච්චර යහපතක්ද, මේ ධර්මය සරණ යන්න ලැබීම කොච්චර යහපතක්ද. ඒ ආර්ය මහා සංඝරත්නය සරණ යන්න ලැබීම කොයිතරම් යහපතක්ද. ඉතින් පින්වත්නි, ඒ මහාබෝධි සත්ත්වයන්ට අවුරුදු දාසය වෙද්දි ශිල්ප දක්වලා යශෝධරා සසරේම පෙරුම් පුරාගෙන අන්තිම ජීවිතේ ඉපදුනු ඒ උතුම් යශෝදරාව විවාහ කරගත්තා. අවුරුදු දහතුනක් ගිහිජීවිතේ වාසය කරනවා. පුංචි රාහුල කුමාරයා කුසේ පිළිසිඳ ගන්නවා. ඉතින් ඒ කාලය ඇතුලත තමයි උයන් කෙළියට යද්දි පින්වතුනි, මහල්ලෙක් ලෙඩෙක් මලමිනියක් පැවිදිරුවක්. ඇයි මහබෝධිසත්ත්වයෝ දැකලා නැද්ද මහල්ලෙක්, ලෙඩෙක්, මලමිනියක්, පැවිදිරුවක් කලින්. දකින්න අවස්ථාවක් සැලසුවේ නෑ. ඇයි දකින්න අවස්ථාවක් සැලසුවේ නැත්තෙ? කලින්ම බ්‍රාහ්මණයන්ගෙන් අහලා තිබ්බා කෙනෙක් පැවිදි වෙන්න යන්නේ ඕවා දැක්කට පස්සෙ කියලා. ඒ නිසා තමයි යොදුන් ගාණක් ඈත් කරලා තියන්නෙ. මහා බෝධිසත්ත්වයන්ට ප්‍රකෘති ඇහෙන් යොදුනක් පේනවා, කිලෝමීටර් දහයක් පේනවා සිදුහත් කුමාරයාට නිකන් ඇහෙන්. පුදුම ඇසක් තියෙන්නෙ. විශාල තල් කරත්තයක එක තල් ඇටයක පුංචි සටහනක් තියලා කරත්තෙට දැම්මට පස්සෙ සිදුහත් කුමාරයාට ඒ තල ඇටයම ගන්න පුලුවන්. එච්චර පෙනුම. මේ පර්වතයක් තියෙද්දින් මේක හරහා බලන්න ඕන කියලා හිතුවාම පේනවා. ඒ නිසා යොදුන් ගාණක් ඈතට දාලා තිබ්බෙ. ඒ නිසා, ඊටපස්සෙ දෙවිවරු විසින් තමයි සතර පෙර නිමිති මහල්ලෙක්, ලෙඩෙක්, මලමිනියක්, පැවිදිරුවක් පෙන්නන්නෙ. ඉතින් අපි ඒ විස්තර කොහොමද ඒ තැන්වලදි මහාබෝධිසත්ත්වයන් කල්පනා කලේ, කියලා බුදුරජාණන් වහන්සේ පස්සෙ කාලෙ දේශනා කලා, මම කලින් කල්පනා කලේ මේ විදියට කියලා. ඉතින් ඒ නිසා මෙතනින් පස්සෙ ගොඩාක්, දැන් අපි මේ වෙනකල් තොරතුරු අටුවා ඇසුරින් කතා කලා. අපි මෙතනින් පස්සෙ සූත්‍ර දේශනා ඇසුරින්ම කොහොමද ඒ සම්බුද්ධත්වය සිද්ධ වුනේ, ඊටපස්සෙ ඒ සම්බුදුරජාණන් වහන්සේගේ සම්බුදු ගුණ මහිමය, බුදුරජාණන් වහන්සේ ලෝකයේ සත්ත්වයන්ගේ දුක් ගිනි නිවපු හැටි අපි ඒවා ඉගෙන ගමු. ඇත්තටම අපිට ඒවා ඉගෙන ගන්න ලැබෙන එක වාසනාවක්. මේ වෙසක් කාලය මේ ඔබගේ හිත තනිකර බුදුගුණයෙන් පුරව ගන්න. හිත සනසාගන්න. අසිරිමත් කාලයක් කරගන්න. සමහරවිට මේ මාසෙම එකදිගට සූත්‍ර අහන්න ලැබුනොත් ඔබගේ මුළු ජීවිතේම එක දිගට මාසයක් බුදු ගුණ අහලා නැතිව ඇති. මේ කාලයේ ඔබට ඒ වාසනාව ලැබෙනවා. ඉතින් ඒ නිසා ඒ භාග්‍යය ඔබ ජීවිතේට

සළසාගන්න.ඉතින් අසිරිමත් සම්බුදු සරණේ පිහිටෙන්, මෙවැනි වූ අසිරිමත් ජීවිතයක් ගත කරපු අපගේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ මුළු හදවතින්ම මම සරණ යනවා කියලා සරණ යන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා සරණ යන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා සරණ යන්න. උතුම් සම්බුදු සරණින් ඔබගේ ජීවිතය සුවපත් වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් පින්වත්නි අද දවසේ, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ෆේස්බුක් සමාජ මාධ්‍ය ජාලයේ, ළඟ අය මිතුරු සමූහය ඒ වගේම සහස්දීපන මිතුරු සමූහය, ඇමෙරිකා එක්සත් ජනපදයේ ඇට්ලන්ටා හා වෙනත් ප්‍රාන්තයන්හි පදිංචි පින්වත් මිතුරු මිතුරියන් විසින්. ඉතින් අපි අද දවසේ භාග්‍යවතුන් වහන්සේගේ අසිරිමත් බෝසත් සිරිත කතා කරපු පින් බලයෙන්, පින්වතුනි ඔක්කෝම ධර්මය එන්නේ මිහිඳු මහරහතන් වහන්සේ නිකෙලෙස් හදමඩලින් දරාගනෙ ආපු තොරතුරුනෙ ඕවා. අපි හදපු ඒවාවත්, අපේ ගුරුවරු හදපු කතාවත් නෙවේ ඒවා. මිහිඳු මහරහතන් වහන්සේ හද මඩලෙන් දරාගෙන ආපු බුදු සිරිත. ශාස්තෘන් වහන්සේගේ ජීවිතේ. ඉතින් ඒ නිසා නිකෙලෙස් හද මඩලක ස්පර්ශ වෙලා ආපු දේවල්. ඉතින් ඒ අසිරිමත් බුදු සිරිත අපිට අහන්න ලැබුනු පින ඒ වගේම බුදුරජාණන් වහන්සේගේ අනන්ත බුද්ධානුභාවය මුල්වෙලා මේ රටටත් ලෝකයටත් ව්‍යසනයක් වුනු කොරෝනා වසංගතය දුරින්ම දුරු වේවා, රෝගී වූ අය සුවපත් වේවා, ලෝකයට ඒ වගේම අපේ ලක්දෙරණට මේ මිනිස් වර්ගයාට සියලු ආරක්ෂාව රැකවරණය වේවා කියලා පළමුවෙන් සෙත් ප්‍රාර්ථනා කරමු. පින් කැමැති සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වේවා, සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙලා මේ පින්වතුන් සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා අපි සියලුම දෙවියන්ට පින් අනුමෝදන් කරනවා, අනුමෝදන් වේවා. ඒ වගේම මියපරලොව ගිය සියලූම ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා. ඒ වගේම මේ කාලයේ උතුම් සම්බුදු සරණ මේ පින්වතුන්ගේ හදවතට සමීප කරන්න අපිට ආශිර්වාද කල, ගුරුහරුකම් ලබාදෙන, පරම පූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම ස්වාමීන් වහන්සේලාට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ගෞතම බුදුසසුනේ ධර්මාවබෝධයම සැලසේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වගේම රැස්

කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් ඒකාන්තයෙන් අනුමෝදන් වෙත්වා ෆේස්බුක් සමාජ මාධ්‍ය ජාලයේ 'ළඟ අය' ඒ මිතුරු සමූහයේ දරුවන් සියලු දෙනාට, ඒ වගේම 'සහස්දීපන' මිතුරු සමූහයේ සියලුදෙනාට, ඒ වගේම ඇමරිකාවේ ඇට්ලන්ටා ප්‍රාන්තයේ සහ වෙනත් ප්‍රාන්ත වල සියලූම මිතුරු මිතුරියන් සියලු දෙනාට, ඒ වගේම සුජීවත්ව සිටින දෙමව්පියන්ට, සහෝදර සහෝදරියන්ට, ඥාති හිතමිත්‍රාදීන්ට නිදුක් නිරෝගී සුවපත්භාවය, ධර්මාවබෝධයට මේ පින් හේතු වාසනා වේවා කියලා, කොරෝනා වෛරසයෙන් රෝගාතුරව සිටින ලක්වැසි, ලෝවැසි, සියලු දෙනාට ඉක්මණින් නිදුක් නිරෝගී සුව සැලසේවා කියලා, ඔබ සියලු දෙනාට අද මේ කරගත්තු ධර්ම දානයේ පින් බලයෙන් සියලු යහපත වේවා, ඔබගේ හදවත බුදුරජාණන් වහන්සේගේ උතුම් ගුණ සමුදායෙන් සිහිල් වී යත්වා, ඔබට සෙත් වේවා. ධර්මාවබෝධය කරන්න මේ රැස් කරගත්ත පිනත් හේතුවාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. මව් දෙමව්පිය, ඥාතිබන්ධුමිත්‍රාදීන් සියලු දෙනාටත් ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයේ ඒ වගේම ධර්ම දායකත්ව සපයන සියලු දෙනාට පින්සිදු වේවා. ඔබ සියලු දෙනාට මේ පින් බලයෙන් උතුම් ගෞතම බුද්ධ ශාසනයේ සොඳුරු තිසරණයේ පිහිටලා කෙලෙස් ගිනි නිවාගැනීමේ වාසනාව සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=7KZmkb2RvsI&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=16

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේත් ඔබට අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන තුළින් ඉතාමත් ඔබගේ ජීවිතය සුවපත් කරන දහම් කරුණු ටිකක් අහන්න ලැබෙනවා, ඒ වගේම අපි සරණ ගිය ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ජීවිතය සිතාගත නොහැකි තරම් ගුණ පිරූ ජීවිතය අහන්න ලැබෙනවා. පින්වතුනි අද ඉතාමත් අසිරිමත් අපේ ශාස්තෘන් වහන්සේ ගැන සිතාගත නොහැකි තරම් උන්වහන්සේගේ වීර්යය ගැන අපි වෙනුවෙන් මේ අමා මහ නිවන ලබාදෙන්න කොයිතරම් නම් වීර්යයක් උන්වහන්සේ ගත්තද කියලා සුළඟක් වගේ දෙයක් ඔබගේ හිතට දැනෙයි ඒ කරපු වීර්යය. ඉතින් අද මේ ධර්ම දේශනාව විකාශනය කරවන්නට දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ ඉගෙනුම ලබන පින්වත් පී.කේ. රකිඳු තිවංක මහත්මයා. දෙමව්පියන්ටත්, සහෝදරයන්ටත්, ඥාතීන්ටත් සෙත් ප්‍රාර්ථනා කිරීම මුල්කරගෙන සිද්ධ කරනවා. එතකොට පින්වත්නි අද දවසේ බුදුරජාණන් වහන්සේ ගැන ඔබට අහන්න ලැබෙන විස්තරත් එක්ක ඔබ තේරුම් ගන්න අපි සරණ ගිය ශාස්තෘන් වහන්සේ කොයි වගේ කෙනෙක්ද කියලා. මීට කලින් වැඩසටහනේදි අපි සිහපත් කලා සිද්ධාර්ථ මහා බෝධිසත්ත්වයන් වහන්සේ උයන්කෙළියට යද්දි මහල්ලෙක් ලෙඩෙක් මලමිනියක්, පැවිදිරුවක් කියන පින්වතුනි ඒ සතරපෙර නිමිති දැක්කා. මේ සෑම බුදු කෙනෙක්ම දකිනවා. ඒ සතර පෙර නිමිති පෙන්වන්නේ දෙවිවරු. මම දුටුවා මිලින්දප්‍රශ්නෙ තියෙනවා ඒ සතර පෙරනිමිති පෙන්නපු දෙවිවරු මහා බෝධිසත්ත්වයෝ ගිහිජීවිතේ ගුරුවරු හැටියට සළකලා තියෙනවා. මහා බෝධිසත්ත්වයන් ගුරුවරු පස් දෙනෙක් ගැන කියනවා ගිහි ජීවිතේ හිටපු. ඒ තමයි සර්වමිත්‍ර ආචාරීන්, ඊළඟට ඒ සතර පෙරනිමිති පෙන්නපු දෙවිවරු, ඊළඟට ආලාරකාලාම, උද්දකරාමපුත්ත වශයෙන් මට හතරයි මතක. මිලින්දප්‍රශ්නෙ තියෙනවා. ඊටපස්සෙ ඉතින් දෙවිවරු ගුරුවරු හැටියට සැළකුවා. මොකද ඒ තුළින් තමයි සම්පූර්ණයෙන් කල්පනා කරන පැත්ත ඉස්මතු වුනේ. මහල්ලෙක් දැක්ක ගමන්ම අපි දකින්නේ වයසක මනුස්සයෙක් කියලානෙ. ඡන්න ඒ කවුද කියලා ඇහුවෙ. ස්වාමීනී ඒ මහල්ලෙක්. මහල්ලා විස්තර කරනවා දිරා ගිහිල්ලා, ලපකැළැල් ඇතිවුනු තමන්ගේ වැඩ තමන්ටවත් කරගන්න බැරිවුනු මහල්ලෙක්. ඡන්න අපිටත් එහෙමත් වෙනවාද, අනේ ස්වාමීනී ඕනම කෙනෙක් වයසට යනවා. දැන් අපි කෙනෙක් දුක් විඳිනකොට කවදාවත් හිතන්නෑනෙ ඕක මටත් වෙනවා කියලා. මිනිස්සු හිතනවා අඩුයිනේ. ධර්මය තියෙන කෙනෙක් නම් හිතනවා. මහා බෝධිසත්ත්වයන්ගේ නුවණ දිහා බලන්න. හැම වෙලාවෙම

ඕපනයිකයි. තමන්ට ගලපලා බලනවා. ඡන්න අපිටත් වෙනවාද, වෙනවා ස්වාමීනී. ඊටපස්සෙ කල්පනා කලා අනේ යම්කිසි වයසට යෑමක් සිද්ධ වෙනවාද මේ මනුස්සයා ඉපදුනු නිසා, උපන් නිසායි වයසට යන්නෙ. ඒ ඉපදීමට නින්දා වේවා කියලා. බලන්න, බෝධිසත්ත්වයෝ සතර පෙරනිමිති වලින් මහල්ලෙක් දැක්ක ගමන්ම ප්‍රඥා සම්පත්තිය පිහිටවපු හැටි බලන්න. තමන්ම ජීවිතයට ගලපාගත්තා ඉපදීම නිසානම් වෙන්නෙ මේ වයසට යෑම ඒ ඉපදීමට නින්දා වේවා. දැන් ඊටපස්සෙ අද කාලෙ නෑ, වයසට යෑමට හිනාවෙනවා. මම ළඟදින් මට ලැබිච්ච අත්දැකීමක් තමයි දැන් ළමයින්ගෙ තියෙන ෆෝන් වල ඇප් එකක් තියෙනවාලු මේ රූපය මෙහෙම ෆොටෝ එක ගහලා එහෙම්මම ඒක වයසට යවන්න පුලුවන්. ඉතින් කොල්ලො ෆොටෝ ගහලා ඒ ෆොටෝ එක වයසට යවලා හිනාවෙනවා. එතකොට මම කල්පනා කලා අපි අපිම හිනාවෙන්නෙ, අපිව වයසට යෑමටනෙ. අපේ වයසට යෑමට හිනාවෙනවා. ජීවිතාවබෝධයක් අපිට එන්නෑ. මට ඒ වෙලාවෙ කල්පනා කලා අනාගතේ අපි වයසට ගියාට පස්සෙ අනිත් අය අපිට හිනාවුනොත් ඒකෙ අරුමයක් නෑ, මොකද අපි පවා හිනාවෙලා. අපේ රූපයට අපි පවා හිනාවෙනවා. එතකොට එදාට අපි වයසට ගියාට පස්සෙ අපේ තරුණ කාලෙ අමතකයි. එතකොට අපිට හිනාවෙන අයට අපි ද්වේශ කරනවා. මේ බලන්න අවිද්‍යාවෙන් වැහුණු, තණ්හාවෙන් බැඳුණු සත්ත්වයාගේ සසර ගමන. හිත් වල කෙලෙස් වල ස්වභාවය. මේ ක්ලේශයටම හරියන විදියට තමයි තාක්ෂණය හැදෙන්නෙ. මහා බෝධිසත්ත්වයෝ කල්පනා කලා ලෙඩෙක් දැකලා, ඡන්න කවුද ඒ? ලෙඩෙක්. ඡන්න අපිත් ලෙඩවෙනවාද, අනේ ස්වාමීනී ඔක්කෝම ලෙඩවෙනවා. උපන් සත්ත්වයා ලෙඩවෙනවානෙ කිව්වා. ඒ වෙලාවෙ පින්වතුනි ඡන්නගේ ඇඟට ආවේශ වෙන්නෙ දෙවි කෙනෙක්. ඡන්නගේ ඇඟෙන් කතා කරන්නෙ දෙවි කෙනෙක්. සිදුහත් කුමාරයා මහල්ලෙක් ලෙඩෙක් මලමිනියක් පැවිදි රුවක් දැක්කෙ නෑ කියන්නෙ සිදුහත් කුමාරයත් එක්කම හැදිච්ච ඡන්නත් දන්නෙ නෑ මහල්ලෙක් ලෙඩෙක් මලමිනියක් ගැන. ඡන්නගෙ ඇඟෙන් කතා කරන්නෙ දෙවි කෙනෙක්. ඒ ලෙඩවීම විස්තර කරනවා. මේ තමයි ලෙඩවෙලා තමන්ගේ වැඩක් කරගන්න බැරිව මරණය පෙනි පෙනී ජීවිතය අවසන් වීම පෙනි පෙනී මේ ඉන්නෙ කියලා. ඡන්න අපිටත් වෙනවාද? අනේ ස්වාමීනී වෙනවා. මනුස්සයෙක් ලෙඩ වෙන්නෙ ඉපදුනු නිසා නම් ඡන්න, ඒ උප්පත්තියට නින්දා වේවා කියලා උයන් කෙළියට යන්නැතිව ආපහු ආවා. හරියට උපතම අල්ලනවා. ඒ ලෙඩේ මොකක්ද වෛරස් එකකින්ද, එහෙම නැත්නම් ඒක බැක්ටීරියාවක්ද, එහෙම නැත්නම්

මොකක්හරි වසංගතයක්ද, ඒවා හෙව්වෙ නෑ, උපන් නිසා ලෙඩවුනා. ඒකෙන් තමයි ජීවිතාවබෝධය ආවෙ. ඊළඟට දැක්කා මරණයක්, ඡන්න ඒ මොකක්ද ඒ? ස්වාමීනී මරණයට පත්වෙලා. අපිත් මැරෙනවාද? ඊටපස්සෙ මරණයට පත්වෙන එක ගැන විස්තර කලා ඡන්න. ස්වාමීනී ඔය මරණයට පත්වුනා කියලා කියන්නෙ ඒ ජීවිතය එයා අත්හැරියා. ඊටපස්සෙ මව්ට එයාව දකින්න බෑ, පියාට එයාව දකින්න බෑ, ඥාතීන්ට එයාලව දකින්න බෑ. ඊටපස්සෙ ඡන්න අපිත් මැරෙනවාද? අනේ ස්වාමීනී මැරෙනවා. එතකොට මං මැරුණොත් මාගේ දෙමව්පියන්ට මාව දකින්න බැරිද, මට ආපහු දෙමව්පියො දකින්න බැරිද? අනේ ස්වාමීනී දකින්න බෑ මැරුණට පස්සෙ කිව්වා. ඊටපස්සෙ ඒකත්, කොච්චර දෙමව්පියන්ට ආදරෙයිද, සිදුහත් කුමාරයා දෙමව්පියන්ට ආදරේ නැතිව වෙන කවුද පින්වත්නි ආදරේ. ඊටපස්සෙ එතනින්ම කළකිරුණා. මේ දෙමව්පියන්ගෙන් ඈත් වෙලා ප්‍රියයන්ගෙන් ඈත් වෙලා යන්න සිද්ධ වෙන්නේ මරණය, ඒ මරණය ලබලා දෙන්නේ උපන් නිසා නම් ඒ උපතට නින්දා වේවා. හිතාගන්න බෑ පින්වතුනි මේ උපතම අල්ලපු හැටි. ඒ හිතට ඇයි ඉතින් හිතාගන්න බෑ කියලා කියන්නෙ, අපි ඉතින් අපේ වචනෙට එහෙම කිව්වට අර පිරූ දස පාරමී ධර්මයන්ගේ පුණ්‍ය තේජස, ඒ ප්‍රඥාව, ඒ වීර්යය, ඒ දාන සම්පත්තිය, ඒ අධිෂ්ටානය විපාක දෙනවානෙ ඉතින්. මේ තැන්වලනෙ විපාක එන්නෙ. ඊටපස්සෙ එදත් උයන් කෙළියට ගියෙ නෑ. ඊළඟ දවසේ පැවිදිරුවක් දැක්කා. එදා ඇහුවා මොකක්ද ඡන්න මේ? පැවිදි රුවක්. ඊටපස්සෙ ඡන්න ඔහොම නවත්වන්න කිව්වා. දැන් වෙන තැන්වල බැස්සෙ නෑ. ඊටපස්සෙ ඡන්න නවත්වන්න කියලා, ඒ මොකක්ද? ඒ තමයි මේ දුක් වලින් නිදහස් වෙන්න ඕන, කුසල් හොඳයි යහපත් දේවල් හොඳයි කියලා ගිහි ජීවිතේ අත්හැරලා යහපත, සත්‍ය සොයාගෙන යන කෙනෙක් කිව්වා. ඊටපස්සෙ ඡන්න ඔහොම ඉන්න කියලා, කරත්තෙන් බැහැලා, අශ්වයා පිටින් බැහැලා ගියා ශ්‍රමණයන් වහන්සේ ළඟට. ඔබ කවුද, මම ශ්‍රමණයෙක්. ඔබ ඇයි පැවිදි වුනේ? මට මේ දුක එපා කියලා. එතකොට ඡන්න කියන්නේ යම් වචන ටිකක්ද ඒ වචන ටිකම පැවිදි රුව කියනවානෙ. ඒකෙනුත් තේරුම් ගන්න ඡන්නගේ ඇඟේ ඉන්නෙ දෙවි කෙනෙක්. ඡන්න කියපු විදියටම, ඒ කියන්නෙ ඒක විනය පිටකයේ, ත්‍රිපිටකයේ විස්තර වෙනවා. ඊටපස්සෙ ඒ පැවිදි රුව කියනවා, ඒ පැවිදි ශ්‍රමණයන් වහන්සේ කුසල් හොඳයි, යහපත් දේවල් හොඳයි කියලා මං මේ පැවිදි වෙලා ඉන්නෙ. ඉතින් එහෙනම් ඒක කොච්චර හොඳද කියලා අනුමෝදන් වෙලා කුමාරයා සන්තෝෂයට පත්වෙලා උයනට යනවා. එතකොට තමයි ආරංචි වෙන්නෙ

රාහුලයන් ඉපදුනා කියලා. රාහුලෝ ජාතං බන්ධනං චේදනං, අනේ මගේ ගමනට රාහුලයෙක් හරස් වුනානේ කියලා. හඳට රාහු බාධා පිණිස පවතින්නෙ, ආන්න ඒ වගේ අදහසක් කිව්වෙ. මට බාධා පිණිස රාහුලයෙක් ඉපදුනා. ඒ නම රාහුලයන්ට තිබුනා. හවස් වෙලා තමයි උයනෙන් ආවෙ. එනකොට යශෝදරා කුමරා තුරුල් කරගෙන නිදි. නාටිකාංගනාවො පිරිවරාගත්තා, කුමරා ඉස්සෙල්ලා සභාවෙ. ඊටපස්සෙ තමයි සිරියහන් ගබඩාවට යන්නෙ. ඒ වෙනම රාජමාළිගාවෙ කොටස් තියෙනවා පින්වත්නි. ඊටපස්සෙ රාජමාළිගාවෙ ඒ කුමරා සතුටු කරවන්න, ලස්සන නාටිකාංගනාවෙ හතළිස්දාහක් හිටියා මාළිගාවෙ. ඉතින් ඒ නළඟනන්ගෙන් පිරිසක් ඇවිල්ලා මාළිගාවෙ නටනවා, ගයනවා, වයනවා, කුමාරයා කල්පනාව තියෙන්නෙ පැවිදි රුව හිතේ තියෙන්නෙ. ඒක ගැන කල්පනා කර කර හිටියා, මෙයාලගේ නච්ච ගීත වාදිත වලට හිත ගියේ නෑ. ඒ කුමාරයාට එහෙම්මම ඇස් පියවුනා. අර නාටිකාංගනාවොත් ඔහේ ඒ තැන් තැන්වලම නිදාගත්තා. අම්මෝ අමු සොහොනක් වගේ. ඒ ගෑණු ගොරවනවා, ඊටපස්සෙ කෙඳිරි ගානවා. දත්මිටි කනවා, කටින් කෙළ වැක්කෙරිලා. ඊළඟට එහෙට මෙහෙට ඇඹරෙනවා, කොණ්ඩෙ කඩා දාගෙන, සමහර අය අතපය ගුලි කරගෙන, විප්‍රකාරෙ. සසරම එපා වුනා. ඒ ස්ත්‍රීන් දැක්කා දැක්කාමයි පිරිනිවන් පාන තාක් ස්ත්‍රියක් ගැන කැමැති මාත්‍රයක් ඇතිවුන්නෑ හිතේ. කොච්චර අප්පිරියාවක් හිතෙන්න ඇතිද. එහෙම්මම ඡන්නට කතා කලා. කන්ථක අශ්වයා සූදානම් කරන්න කිව්වා. යශෝදරාවන්ගේ සිරියහන් ගබඩාවට ගියා. රාහුල කුමරුන් දෙස ඈත සිට බැලුවා. නුඹලා මා දුකින් නිදහස් කරවනවා. මාළිගාවෙන් බැහැලා කන්ථක අශ්වයාගෙ පිටට නැව්තු කලා. කන්ථක උඹ මාව ගෙනියනවා නේද, මං යන්නෙ උඹලාව දුකින් නිදහස් කරන්න. ලොව්තුරා සම්බුදු බව හොයාගෙන. දුකින් නිදහස් වීමක් හොයාගෙන. යාළුවා, උඹට පුලුවන් නේද මාව පිටේ තියාගෙන යන්න. පින්වතුනි ඔය කියපු විස්තර විමානවත්ථුවේ කන්ථකවිමානවත්ථුව කියලා තියෙනවා. ඒ කන්ථක දිව්‍ය රාජයාම තමන්ට වෙච්චි සිද්ධි ටික විස්තර කරනවා. විමානවත්ථුව බලන්න. මාගේ ප්‍රිය සිද්ධාර්ථයන් මාගේ කලවයට නැව්තු කරලා, යාළුවා මාව ගෙනියන්න පුලුවන්ද, මම උතුම් අවබෝධයක් ලබාගෙන නුඹලා නිදහස් කරවනවා කියලා මට කිව්වා, මං ඒකට ගොඩාක් සතුටු වුනා. මං ඉතාමත් සන්තෝෂයෙන් තමයි ඒ සිද්ධාර්ථයන් වහන්සේ පිටේ තියාගෙන ගියෙ. කන්ථක කියනවා, අනෝමා නදියෙන් එතෙර වුනා. ඒ සිද්ධාර්ථයන් වහන්සේ සියලු ආභරණ ගැලෙව්වා. මං මගේ දිවෙන් තඹ පාට

නියපොතු තියෙන ඒ සිද්ධාර්ථයන් වහන්සේගේ සිරිපා ලෙවකෑවා. කුමාරයා අපිව දාලා ඈතට යනකොට මට ඒ දුක දරාගන්න බැරිවුනා. මං එතනම මැරිලා වැටුනා. කන්ථක අශ්වයා එසේ කිව්වේ දැන් දෙව්ලොව. කඩුවෙන් කෙස් කපලා අහසට දැම්මා. සම්බුදු වෙනවා නම් අහසේ රැඳේවා කියලා. සක්දෙවිඳු ගත්තා, අදටත් සිළුමිණ සෑයෙ. අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ ගැන කවර කතාද, අභිනිෂ්ක්‍රමණය කරපු බෝධිසත්ත්වයන්ගේ කෙස් කළඹට වඳිනවා පින්වත්නි සකල දේව සමූහයා. අපි සරණ ගිය ශාස්තෘණ් වහන්සේගේ ගිහි කාලෙ. අවසානෙට ඇඳපු වස්ත්‍ර ටික ගලවලා ඝටීකාර බ්‍රහ්ම රාජයා සිවුරු දුන්නා. ඒ සිවුරු පොරොව ගත්තා. අවසානෙට ඇඳපු වස්ත්‍රය, මහා බෝධිසත්ත්වයො සසරටම අවසානෙට අඳින සළුව, සසරටම අවසානෙට අඳින සළුව ගලවලා අහසට දැම්මා. මහා බ්‍රහ්මයා ගිහි කෙනෙක් ඇඳපු වස්ත්‍රය මහා බ්‍රහ්මයා වඳින්නෙ සළුමිණ සෑයෙ, බඹලොව. සියලු බ්‍රහ්ම සමූහයා වඳිනවා. අපි සරණ ගිය ශාස්තෘන් වහන්සේ ගිහි කාලෙ පොරවපු වස්ත්‍රයටත් මහා බ්‍රහ්මයො වඳිනවා පින්වත්නි. මුළු හදවතින් බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ශ්‍රී සද්ධර්මය සරණ යන්න. ආර්ය සංඝ රත්නය සරණ යන්න. උන්වහන්සේ වනයෙන් වනයට ගියා. ඊටපස්සෙ ඒ මහා බෝධිසත්ත්වයෝ මගධ දේශයට ගියා. මගධ දේශයට ගියාට පස්සෙ උන්වහන්සේට ඇත්තටම ඉස්සෙල්ලාම වළඳන්න ලැබිලා තියෙන්නෙ පිට්ටුවක්, පිණ්ඩපාතෙ යනකොට. මගධ දේශයට ගියාට පස්සෙ යොදුන් ගණනාවක් දුර, මගධයේ පිණ්ඩපාතෙ ගියා. පිණ්ඩපාතෙ යනකොට මිනිස්සු පිණ්ඩපාතෙ බෙදනවාටත් වැඩිය මිනිස්සු කලබල වෙලා. රන්රුවක්. ඇයි පින්වතුනි මාළිගාවෙන් ඉස්සෙල්ලාම විසිනව වසරටම පාවහන් සඟලක් නැතිව පා තියපු ගමන. රන් රුවක්නෙ. කුමාරයෙක්නෙ. රාජ කුමාරයෙක්නෙ. සීතලට වෙනම මාළිගා, උණුසුමට වෙනම මාළිගා. පුදුම රන්රුවක්නෙ ඒ වඩින්නෙ. මිනිස්සු මේ දිව්‍ය රාජයෙක්ද, බ්‍රහ්මරාජයෙක්ද, මාළිගාව ඉස්සරහින් වඩිනකොට අපේ බිම්බිසාර මහරජ්ජුරුවො කවුලුවෙන් දැක්කා ඈත මේ සිද්ධිය සම්පූර්ණයෙන්ම තියෙනවා, සුත්ත නිපාතයේ පබ්බජ්ජා කියන සූත්‍රයේ කියවන්න. සුත්ත නිපාතයේ, ලොකු ස්වාමීන් වහන්සේගේ පරිවර්තනය තියෙනවා අපේ බුදුසමිඳු තවම වැඩ වෙසෙති. ඒ පොත් වහන්සේගේ සුත්ත නිපාතයේ පබ්බජ්ජා සූත්‍රයෙ. එතකොට ඒ වඩින ගමනින්ම, රජතුමා හරි සාස්තර දන්නවා. බිම්බිසාර රජතුමා හරියට ශාස්තර දන්නවා. එතකොට බිම්බිසාර රජතුමා දැක්කා, බිම්බිසාර රජතුමා දැන් මතකද කුම්භපෝෂක කටහඬින්නෙ

අඳුරගෙන්නෙ ඒ ධනවතෙක් කියලා. ඒ සූත්‍රයේම තියෙනවා වඩින ගමනින්ම දැනගත්තා කියනවා මෙයා නම් උසස්ම කුලයේ එක්කෙනෙක් කියලා. රජවරු රජවරු ගැන දන්නවානෙ. වඩින ගමනින්ම ඇතින් හිතුවා කියනවා මෙයා නම් උසස්ම කුලයේ කෙනෙක් කියලා. ඉක්මණටම ඒ ගමන දැකලා තමයි බිම්බිසාර රජ්ජුරුවො රාජ දූතයෙක් යවන්නෙ කොහෙද ඉන්නෙ කියලා බලන්න කියලා. වේපාර පර්වතයේ නැගෙනහිර පැත්තේ උන්වහන්සේ පිණ්ඩපාතෙ වළඳනවා. අර දූතයා දුවගෙන ඇවිල්ලා කියනවා ස්වාමීනී ඒ නම් මනුස්සයෙක් නම් නෙවෙයි කිව්වා, දිව්‍ය රාජයෙක් කිව්වා. සිංහරාජයෙක් කිව්වා. ඒ නම් මහා වෘෂභරාජයෙක් කිව්වා. ස්වාමීනී එහෙනම් කියලා ඒ මනුස්සයා, රාජදූතයා දන්න යම්තාක් වචනද ඒ ඔක්කෝම කිව්වා හති දදා මේ නම් මහා හරිම පුදුම කෙනෙක් කියලා. කොච්චර රාජදූතයා ඒ විස්තරේ කිව්වද කියනවානම් ඒ මොහොතෙම රාජරථයට නැගලා වේගයෙන් ගියා කියනවා, බිම්බිසාර රජ්ජුරුවෝ කවුද කියලා බලන්න. බිම්බිසාර රජතුමාගෙයි අපේ බුදුරජාණන් වහන්සේගෙයි වයසෙ පොඩි වෙනසක් තියෙන්නෙ. මං හිතන්නෙ අවුරුදු පහක් බිම්බිසාර රජ්ජුරුවො වැඩිමල්. ඒ කියන්නෙ බිම්බිසාර රජතුමාට එතකොට වයස අවුරුදු තිස්හතරයි. ඊටපස්සෙ දුවගෙන ගිහිල්ලා අනේ උත්තමයන් වහන්ස මට නම් ඔබ වහන්සේගේ වෙන විස්තර ඕන නෑ කිව්වා. දැක්ක ගමන්ම මාගේ රාජ්‍යයෙන් කොටසක් දෙනවා ඔබ වහන්සේට කිව්වා. මේ පුදුම තේජසක්නේ කිව්වා ඔබවහන්සේගේ දේහයේ තියෙන්නෙ කිව්වා. කවුද ඔබ වහන්සේ. මම කෝසල ජනපදයේ, හිමාල ප්‍රාන්තයේ තියෙන කපිලවස්තුවේ සුද්ධෝදන රජතුමාගේ පුතා සිද්ධාර්ථයන් කිව්වා. අනේ ස්වාමීනී, වැඩ ඉන්න මෙහෙ. ඔබවහන්සේ රජකම ගන්න. කිව්වා පිරිසිදු රාජ කුල පරම්පරාවේ මට මතක හැටියට අසූ ගාණක් වගේ, පිරිසිදු රජවරු අසූගාණක් වගේ පැවතගෙන එන රාජවංශයේ රාජ්‍යය උරුම වෙලා තිබ්බෙ මට කිව්වා. ඒකත් අතහැරලා මං පැවිදි වෙන්න ආවා. කිං කුසල ගවේසී, කං සච්ච ගවේසී, සත්‍යය කුමක්ද කුසල් කුමක්ද කියලා හොයාගෙන. මහරජ, ඒ නිසා මං එයම සොයාගෙන යනවා කිව්වා. එහෙනම් ස්වාමීනී ඔබ වහන්සේ යම් දවසක ඒ සොයෙන දේ ලැබුනොත් මටද එය රැගෙන එන්න. මාගේ රාජ්‍යයට වඩින්න කියලා ආරාධනා කලා. උන්වහන්සේ ගමින් ගමට වැඩියා. ගුරුවරු සොයාගෙන ගියා. අන්න ඒ ගිය ගමන, කොයි වාගේ ගමනක්ද කියලා ලස්සනට විස්තර වෙන සූත්‍ර දේශනාවක් අද ඔබට ඉගෙන ගන්න ලැබෙනවා. මේ දේශනාවේ නම බෝධිරාජකුමාර සූත්‍රය. මේ සූත්‍ර දේශනාවේ බුද්ධ වචනයෙන්ම ඒ ගිය ගමන මං මේ විස්තර

කරන්නෙ. ශාස්තෘන් වහන්සේට පහදින්න. පුදුම ජීවිතයක්. ඊට‍පස්සෙ බෝධිරාජ කුමාරයා, භාග්‍යවතුන් වහන්සේට දානෙට ආරාධනා කරලා, මේ කතාව ඔබට හුරුපුරුදු කතාවක්, ඒ තමයි අර දානෙට වඩිනකොට සුදු රෙද්දක් ඇතිරුවෙ දරුවො නැතිව, මට දරුවො ලැබෙනවා නම් මේ සුදුරෙද්ද මතින් වඩිත්වා කියලා, බුදුරජාණන්වහන්සේ වැඩියෙ නෑනෙ. ඊට‍පස්සෙ ආනන්ද ස්වාමීන් වහන්සේ කිව්වා, භාග්‍යවතුන් වහන්සේ පශ්චිම ජනතාවට කාරුණිකයි, ඒ නිසා බෝධිරාජ කුමාරය මේ වස්ත්‍රය අයින් කරන්න කියලා. ඒකට හේතු කීපයක් තිබ්බා පින්වත්නි. එකක් තමයි, ඒ බෝධිරාජ කුමාරයාට දරුවො ලැබෙන්නෑ, කලින් ජීවිතේදි රකින බිත්තර පැටව්, කුරුල්ලො රකින බිත්තර කාලා තියෙනවා. කුරුළු කූඩු වල තියෙන, එක දූපතක ඉද්දින්. ඈත අතීතයේ සිද්ධියක්. අනිත් එක තමයි, දැන් මේ සිද්ධිය, මේක උඩින් වඩිනවාද නැද්ද කියන සිද්ධියක් තියෙනවානෙ. මම දැක්කා අටුවාවේ ඒ විස්තරය තියෙනවා ඒ තමයි හිතලා තියෙනවා කියනවා භාග්‍යවතුන් වහන්සේ හිතුවා කියනවා, අනාගතෙත් සමහර අය එක එක අභිමතාර්ථ හිතාගෙන වස්ත්‍ර දායි පාරට. එතකොට වඩින භික්ෂූන් වහන්සේලා දායකයාගෙ හිත බලන්නෙ නැත්නම් උන්වහන්සේලා දන්නැතිව වඩිනවා. එතකොට සමහර වෙලාවට එයාලගේ අදහස ඉෂ්ට වෙන්නෑ, අර හිතුවට. පස්සෙ දායකයාම ගරහනවා සංඝයාට. බොහෝ පව් රැස් කරගනී කියලා. ඒ නිසා ඒ විදියට වැඩියා කියලත් කියනවා. ඉතින් කොහොමහරි දානය පූජා කරලා බුදුරජාණන් වහන්සේ සමඟ කතාවට, බුදුරජාණන් වහන්සේ සමඟ දහම් කතාවට ආරම්භ වුනා. ඉතින් කියනවා බෝධිරාජ කුමාරයා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මගේ හිතේ අදහසක් තියෙනවා, ඒ තමයි සැපයෙන් නම් සැපක් ලබන්න බෑ. දුකෙන් තමයි සැප ලබන්න පුලුවන්නෙ කියලා මගේ අදහසක් තියෙනවා. බුදුරජාණන් වහන්සේ වදාළා බෝධිරාජ කුමාරය, සම්බුද්ධත්වයට පත්වෙන්න කලින්ම මටත් ඔය අදහස තිබ්බා. ඒ තමයි දුකෙන් තමයි සැප ලබන්න ඕන වෙන්නෙ, සැපෙන් නම් සැප ලබන්න බෑ කියලා මටත් ඔය අදහස තිබ්බා. ඉතින් බෝධිරාජ කුමාරය, මං ඊට‍පස්සෙ තරුණ කාලෙ, තරුණ වයසේ ඉද්දිදින් කළු කෙස් තියෙන කාලෙම යොවුන් වියේදීම, ප්‍රථම වයසේ සිටියදීම, මාපියන් අකමැති වෙද්දීම, කඳුළු වැගිරුණු මුහුණින් යුතුව ඔවුන් අඬද්දී මහා ප්‍රජාපතියත් සුද්ධෝදන රජතුමාත් ගොඩාක් අඬලා තියෙනවා. ඇයි අර සතර පෙරනිමිති වලින් එකක් දෙකක් තුනක් දකිනකොටම හැරිලා ආවනෙ. එතකොට දැනගත්තා දැන්නම් යනවා කියලා. ඊට‍පස්සෙ ගිහිගෙයින් නික්ම

අනගාරික පැවිද්දට මං පත්වුනේ දෙමව්පියන් අඬද්දින්. මෙසේ මං පැවිදිව කිං කුසල ගවේසීව කුසල් කියන්නෙ මොකක්ද කියලා හොය හොයා ගියා. නිර්වාණය කියන්නෙ කුමක්ද කියලා හොය හොයා ආලාරකාලාමයන් වෙත පැමිණුනා. ආලාරකාලාමයන් ළඟට ගිහිල්ලා මං කිව්වා ආයුෂ්මත් කාලාම මං කැමති මේ ධර්ම විනය තුළ බඹසර හැසිරෙන්න කියලා. එතකොට ආලාරකාලාම කිව්වා, බොහොම හොඳයි, බඹසර හැසිරන්න. නුවණ තියෙන කෙනෙකුට ඉක්මණට මේ ධර්මය අවබෝධ කරන්න පුලුවන් කියලා. ඉතින් රාජ කුමාරය මං ඉතාම සුළු කාලයකින් වහාම ඒ ධර්මය ඉගෙන ගත්තා. පින්වත් රාජ කුමාරය, මං ඔවුන් තොල් සොළවන පමණින්, කියවන පමණින් ඒක තේරුම් ගත්තා. ඔවුන්ගේ ධර්ම ක්‍රමය තේරුම් ගත්තා. ඒ දේ දන්න කෙනෙක් දකින කෙනෙක් බවට පත්වුනා. අනිත් උදවියත් කිව්වා මේ සිද්ධාර්ථයන් නම් ඉක්මණට මේ ධර්මය තේරුම් ගත්තා කියලා. එතකොට රාජකුමාරය, මට හිතුනා මේ ආලාරකාලාම මේ විදියට අන් අයව හික්මවන්නේ මොහු තුළ මොනවාහරි ධර්මයක් තියෙනවා, ඒ නිසා මට ඒක ඉගෙන ගන්න ඕන කියලා, මම ගිහිල්ලා ආලාරකාලාමගෙන් ඇහුවා, ඔබ තුළ තියෙන ධර්මය මොකක්ද කියලා. ඊටපස්සෙ ඔහුම මට කියලා දුන්නා ආකිඤ්චංයායතන සමාධිය ගැන. ආකිඤ්චංයායතන සමාධිය කියලා කියන්නෙ අරූප ධ්‍යානයක්. කිසිවක් නෑ කියලා, ඒ කියන්නෙ ඒක ධ්‍යාන පිළිවෙලට යන්නෙ, පළවෙනි ධ්‍යානය, දෙවෙනි ධ්‍යානය, තුන්වෙනි ධ්‍යානය, හතරවෙනි ධ්‍යානය, පිලිවෙලට ගිහිල්ලා ඒ ධ්‍යානය හොඳට වශීප්‍රාප්ත කරගෙන ආකාශය අනන්තයි කියලා භාවනාවක් වඩනවා. එතකොට අර ඕලාරික රූපී ස්වභාවය නැතිවෙලා මානසිකව ආකාශය අනන්තයි කියලා හිත ඒකෙ පිහිටනවා. එතකොට ඒකට කියනවා ආකාශානඤ්චායතන සමාධිය කියලා. එතකොට ඒ සමාධිය හිත හොඳට වශීප්‍රාප්ත වුනාට පස්සෙ ඒ ආකාශය අනන්තයි කියන අරමුණ අත්හැරලා විඤ්ඤාණය අනන්තයි කියලා මානසිකව අරමුණක් ගන්නවා. ඒකට කියනවා විඤ්ඤාණඤ්චායතනය කියලා. ඒ සමාධිය හොඳට වශීප්‍රාප්ත කරගෙන ඒ සමාධියෙන් ගන්නවා කිසිවක් නෑ කියලා එකක්. මේ ඔක්කොම කායිකව සිද්ධ වෙන එකක් නෙවෙයි මානසිකව සිද්ධ වෙන දෙයක්. ඒකයි අරූප ධ්‍යාන. දැන් අර අනිත් ඒවා තියෙන්නෙ විතක්ක විචාර පීති සුඛ ඒකාග්ගතා සහිත පඨමධ්‍යාන ද්විතියධ්‍යාන ආදී වශයෙන්නෙ එන්නෙ. එතකොට ඒවගේ සැපය මේ කයෙන් පහස විඳ විඳ තමයි ඒ සමාධි තියෙන්නෙ. එතකොට අර සමාධි තියෙන්නෙ තනිකර මානසික එක්ක. ඒකට කියනවා ආකිඤ්චංයායතන

සමාධියට සමවැදුනා කියලා. එතකොට ඒක ඒ සමාධියට සමවැදිලා මහාබෝධිසත්ත්වයෝ ඉක්මණට සමවැදුනා ඒකට. ඊටපස්සෙ ආලාරකාලාමට ගිහිල්ලා කිව්වා ආලාරකාලාම ඔබගේ අවබෝධය ඔච්චරද. ඊටපස්සෙ කිව්වා ප්‍රිය ආයුෂමතුනි, මං අවබෝධයම සාක්ෂාත් කරගෙන තියෙන ධර්මය ඔච්චර තමයි. ඉතින් ආයුෂ්මතුනි දැන් ඔය ධර්මය, ඒ සමාධිය මටත් පැහැස වාසය කරන්න පුලුවන්නෙ. ඒක කිව්වා විතරයි අනේ ඇත්තටම ආයුෂ්මතුනි ඔබ ලාභයක්නෙ. ආයුෂ්මතුනි ඕක අපිට හරි ලාභයක්. ආයුෂ්මතුනි වහන්සේ වගේ සබ්‍රහ්මචාරීන් වහන්සේ නමක් අපටත් දැකගන්න ලැබුනානෙ. මම යම් දෙයක් අවබෝධ කලානම් ඔබත් ඒක අවබෝධ කලා. ඔබ යමක් අවබෝධ කලා නම් මමත් අවබෝධ කලා. මම යමක් දන්නවා නම් ඔබත් ඒක දන්නවා. ඔබ යමක් දන්නවා නම් ඒක මමත් දන්නවා. අද ඉඳලා අපි දෙදෙනාම මේ ශිෂ්‍ය පිරිස හදාගෙන ඉමු කිව්වා. මම ගෝලයෙක් වෙලා ගුරුවරයෙක් ළඟට ගියාට පස්සෙ සිද්ධවුනේ මොකක්ද ගුරුවරයා මාව සමතැන තිබ්බා. ගොඩාක් පුදසත්කාර කලා. ඉතින් මේ විදියට කලාට පස්සෙ මම හිතන්න ගත්තා. මේ ධර්මය නම් අවබෝධයෙන්ම කළකිරීමට හේතු වෙන්නෑ, නොඇල්ම පිණිස හේතුවෙන්නෑ, දුක් නැතිවෙන්න හේතුවෙන්නෑ, කෙළෙස් සංසිඳීම පිණිස හේතුවෙන් නෑ, විශේෂ ඥාණයට හේතු වෙන් නෑ. ආර්ය සත්‍යය අවබෝධයට හේතු වෙන්නෑ, නිවනට හේතු වෙන් නෑ, මේ ධර්මය හේතුවෙන්නෙ ආකිඤ්චංයායතන ලෝකයේ උපදින්න විතරයි. පින්වත් රාජ කුමාරය, ඉතින් මං ඒකෙ ඇත්ත දැකලා කළකිරිලා එතන දාලා ගියා. කොහොමද මහා බෝධි සත්ත්වයන්ගේ නුවණ, ප්‍රඥාව. ඒක ආශ්චර්යයි. මං උදාහරණයක් කියන්නම්. අපි කියමු භාවනා අසපුවට වුනත්, මහමෙව්නාවට වුනත් සසර දුකින් නිදහස් වෙන්න ඕන කියලා එනවා. ආවට පස්සෙ මොකක්හරි සමිතියක නිලතලයක් හරි දුන්නට පස්සෙ එතනින් එහාට එකක් නෑ එයාට. එතකොට ආවෙ සසර දුකින් එතෙර වෙන්න. නිලතලයේ රැඳුනා. ඒවත් බලන්න. පැවිදි වෙන්න එන එකත් ඒ වගේ. සසර දුකින් නිදහස් වෙන්න ඕන කියලා පැවිදි වෙන්න ඇවිල්ලා, පැවිදි ජීවිතේ මොකක්හරි අල්ලගෙන එතන නවතිනවා. ආපු අරමුණ හිතන් නෑ. නිතර හිතන්න ඕන, මං ආවේ මේකටද. මං ගිහි ජීවිතේ අත්හැරියේ මේකටද. දැන් අපි වුනත්, අපි නිතර කල්පනා කලේ නැත්නම් මං මහණ වෙන්න ආවෙ මොකටද, බණ කියන්නටද, මේකටද කියලා නිතර නිතර හිතට ප්‍රශ්ණය දුන්නැතිනම්, හිතින් ප්‍රශ්නය ඇහුවේ නැත්නම් මේ මාර්ගය හරියට වඩන්න වෙන්නේ නම් නෑ, ඔබටත් අපටත් කාටත්. මේ බලන්න මෙච්චර මහා

සමාධියක්, අරූප ධ්‍යානයක් තියෙද්දිත් මං ආවෙ මේකට නෙවෙයි, මං ආවේ දුකෙන් නිදහස් වෙන්නයි කියලා එතන අත්හැරලා ගියානෙ. ඊට පස්සෙ පින්වත් රාජකුමාරය, මං ආයෙමත් කුසල් කියන්නෙ මොකක්ද, කිං කුසල ගවේසී, සොයන්න පටන් ගත්තා. අනුත්තර වූ අමා නිවන සොයන්න පටන් ගත්තා. රාමපුත්‍ර උද්දක ළඟට ගියා. එතකොට එයා උද්දකරාමපුත්‍ර. තාත්තාගෙ නම රාම. මෙයාගෙ නම උද්දක. උද්දකරාමපුත්‍ර. ඉතින් රාමපුත්‍ර උද්දක ළඟට මම ගියා. ඉතින් අපි ඇත්තටම උද්දකරාමපුත්‍ර කියලා අපි කියන්න පුරුදු වෙලා තියෙන්නෙ. නමුත් දේශනාවෙ තියෙන්නෙ රාමපුත්‍ර උද්දක. ඊට පස්සෙ මම ගියාට පස්සෙ ඔහුත් මට එන්න කියලා කතා කරලා ධර්මය ඉගැන්නුවා. මටත් හිතුනා, ඉතින් එයත් තොල් සොළවන පමණින් මට ඒ ධර්මය වැටහුනා. ඊළඟට මමත් මටත් හිතුනා මේ රාමපුත්‍ර නිකන් නෙවේ කියන්නෙ, ඇතුලෙ අනිවාර්යයෙන්ම මොකක්හරි මෙයාගෙ ධර්මයක් තියෙනවා මට ඒක ඕන, කියලා මම ගිහිල්ලා ඇහුවා, උද්දක ඔබ තුළ තියෙන ධර්මය ඔබ දන්න ධර්මය ඕකද. ඊට පස්සෙ එයා විස්තර කරලා දුන්නා අපේ තාත්තා රාමයන් අපූරු ධ්‍යානයකට සමවැදුනා, ඒක තමයි නිවන. නෙවසඤ්ඤානාසඤ්ඤායතනය කියලා. එතකොට මට මෙහෙම හිතුනා. ශ්‍රද්ධාව තියෙන්නෙ රාමට විතරක් නෙවෙයි. එතන ශ්‍රද්ධාව කියන්නෙ කරන දේ ගැන විශ්වාසය. රාමට විතරක් නෙවෙයි. ඊළඟට වීර්යය තියන්නෙ රාමට විතරක් නෙවෙයි. සිහිය තියෙන්නෙ රාමට විතරක් නෙවෙයි. ඊළඟට සමාධිය තියෙන්නෙ රාමට විතරක් නෙවෙයි. ඊළඟට ප්‍රඥාව තියෙන්නෙ රාමට විතරක් නෙවෙයි. මටත් තියෙනවා. මටත් මේක අවබෝධ කරගන්න පුලුවන්නේ කියලා මමත් ඒ සමාධිය වැඩුවා, නෙවසඤ්ඤානාසඤ්ඤායතනය. අර ආකිඤ්චංයායතන සමාධිය ගැන මම යම් විස්තරයක් කලේ. එතකොට එතන කිසිවක් නෑ කියලා ඒ අරමුණ හිතේ තියාගෙන වඩනකොට ඊට පස්සෙ එයා සංඥාව ඇත්තෙත් නැති, නැත්තෙත් නැති අරමුණක හිත පිහිටවනවා. එතකොට සංඥාව ඇත්තෙත් නෑ, නැත්තෙත් නෑ, නෙවසඤ්ඤානාසඤ්ඤායතනය කියලා. ඊට පස්සෙ මම ඒක පැහැස වාසය කලා. මම ගිහිල්ලා රාමපුත්‍ර උද්දකගෙන් ඇහුවා ඔබ දන්න ධර්මය ඔච්චරයිද. එච්චරයි කිව්වා. ඉතින් එහෙනම් මං ඒක පැහැස වාසය කරනවානෙ, මම ඒ සමාධිය ඉපැද්දුවානෙ. ඊට පස්සෙ කිව්වා ආයුෂ්මතුනි මේක මහා ලාභයක්නේ. මේක මහා පුදුම සහගත දෙයක්නෙ. බලන්න පියාණන්ගෙන් මම මේ ධර්මය ඉගෙනගත්තට මටවත් තවම බැරිවුනා ඒ සමාධියට සමවැදෙන්න. ඒ නිසා ඔබවහන්සේ මෙහි වැඩ සිටින සේක්වා, අපිට

අවවාද කරන සේක්වා. රාජපුත්‍රය, රාජකුමාරය, මම ගෝලයෙක් විදියට එතෙන්ට ගිහිල්ලා අවසානයේ ඔහු මාව ගුරුවරයා කලා. සියලුදෙනා මට සත්කාර කලා. ඒත් මම කල්පනා කලා, මම හොයාගෙන ආවෙ මේකද. මේ නේවසඤ්ඤානාසඤ්ඤායතනය තියනේනෙ නෙවසඤ්ඤානාසඤ්ඤායතන ලෝකයේ උපැදීම පිනිසයි. මම සොයාගෙන ආපු දුකින් නිදහස් වීම, කෙලෙස් වල සංසිදීම, කෙළෙස් වලින් නිදහස් වීම මේක නෙවෙයි කියලා මට හිතුනට පස්සෙ මට ඒ ගැන කළකිරීමක් ඇතිවෙලා මං එතන දාලා එතනින් නික්මිලා ගියා. ඉතින් පින්වත් රාජකුමාරය මං ආයෙමත් කුසල් කියන්නෙ මොකක්ද, කිං කුසල ගවේසී හොයන කෙනෙක් බවට පත්වුනා. අමා නිවන හොයාගෙන යන කෙනෙක් වුනා. මං මගධ ජනපදයේ ඇවිදගෙන ඇවිදගෙන ගියා. එහෙම යද්දි තමයි උරුවේලාවේ සේනානි නම් නියම්ගම හමුවුනේ. මං එතනදි නැවතුනා. ඒ භූමිය මම දැකපු රමණීය තැනක්. දැන් බලන්න උරුවේලාවේ සේනානි ගම රමණීය තැනක්. අද දුර්ගේෂ්වරී, ඒ කන්ද අද නිකං වැහැරිලා ගිහිල්ලා ගහක් කොළක්වත් නැතිව. නමුත් මහා බෝධිසත්ත්වයෝ හිමාලය පැත්තෙ ඉඳලා එන්නෙ. කපිලවස්තු මාළිගාවට හිමාලයේ කඳුවැටිය පේනවා. ඊටපස්සෙ එහෙ ඉඳලා එන්නෙ. බලන්න පුදුම දෙයක් වුනා. සාමාන්‍යයෙන් විමුක්තියක් හොයාගන යන අය යන්නෙ හිමාලයටනෙ. මහා බෝධිසත්ත්වයෝ හාත්පසින් ගියෙ අනිත්පැත්තට. හිමාලය පෙනි පෙනී අනිත් දිශාවට ගියා. මේක තමයි පුදුම සහගත දේ. ඇයි බෝධීන් වහන්සේ වැඩ ඉන්නෙ මෙහෙනෙ. දැක්කද ඒ ධර්මතාවයන් ලෝකෙ සිද්ධ වෙන හැටි. එතකොට එච්චර ලස්සන ගම්බිම් යොදුන් ගාණක් ගෙවාගෙන එද්දි ලස්සනම තැන උරුවේලාවෙ සේනානි ගම. උරුවේලාවේ සේනානි ගම තමයි දැන් අපේ අසපුව තියෙන්නෙ. බුදුනුවණ අසපුව. බුද්ධකියනආශ්‍රම් කියලා. ඉතින් බලන්න අද ඒ ප්‍රදේශයට ගියාට පස්සෙ. අද ඒ මොකක්වත් නෑ. නේරංජනා නදියෙ වතුරත් නෑ. ඊටපස්සෙ හරී ලස්සන තැනක්. සුදු වැලිතලාවක් තියෙනවා නේරංජනා නදිය ගලාගෙන යනවා. ඒ වන ගැබ ඇත්තෙන්ම ලස්සනයි. සුදුවැලි තලාව තියෙන රමණීය නදිය ගං ඉවුරු මැදින් නදිය ගලා බසිනවා. පිණ්ඩපාතෙ ගන්නත් ගම ළඟයි. පින්වත් රාජ කුමාරය, මට එතකොට මේ විදියට හිතුනා. ඇත්තටම මේ පළාත රමණීයයි. මේ වන ගැබත් ලස්සනයි. සුදු වැලි තියෙනවා. මට පිණ්ඩපාත කරගන්නත් පුලුවන්. ඇත්තෙන්ම වීර්යයෙන් භාවනා කරන පින්වතෙකුට මෙතන තමයි සුදුසු තැන කියලා මං භාවනාකරන්න එතන නැවතුනා. පින්වත් රාජකුමාරය - මේ බුද්ධ වචනය - එතකොට මට පෙර නොඇසූ විරූ ආශ්චර්‍යයී

උපමා තුනක් වැටහුනා. ඒ තමයි ජලයේ බැස්සවූ දියෙන් යුතු තෙත් දර කැබැල්ලක් තියෙනවා. එතකොට පුරුෂයෙක් උත්තරාරණිය අරගෙන එනවා. මං මේ ගිනි උපද්දවනවා, තේජස පහළ කරනවා කියලා. උත්තරාරණිය කියන්නෙ ඒ කාලෙ වියළි ලී ඒ මැෂිමට දාලා කරකවනකොට ලීයෙන් ගින්දර එනවා. එහෙම තමයි ඉස්සර ගිනි ඉපැද්දුවෙ. එතකොට මහා බෝධිසත්ත්වයෝ උපමාවක් වැටහුනා, අර භාවනා කර කර ඉන්නකොට. ඒ තමයි යම්කිසි වතුරේ දාපු ලීයක් තියෙනවා. ඒ වතුරේ දාපු ලීය, කෙනෙක් දැන් එනවා. මම මේ ගිනි උපද්දනවා කියලා වතුරේ දාපු ලීය උත්තරාරණියට දාලා කරකවනවා ගිනි උපද්දවනවා කියලා. ඇහුවා රාජ කුමාරය දැන් ගින්දර එයිද? අනේ නෑ ස්වාමීනී. ඒකට හේතුව මොකක්ද, මේක වතුරේ තිබ්බෙ වතුර බේරෙනවා. ඉතින් මේකෙන් බෑ ඉතින් පුරුෂයා ක්ලාන්ත වෙන එක විතරයි කිව්වා ගින්දර උපද්දවන්න ගිහිල්ලා වෙන්නෙ. පින්වත් රාජකුමාරය, ඕන්න ඔය විදියට තමයි කිව්වා, යම්කිසි ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ කයෙනුත් සිතෙනුත් කාමයන්ගෙන් වෙන් නොවී ඉන්නවානම් කාමයන් කෙරෙහි ඔවුන් තුළ යම් කාමාශාවක් කාමස්නේහයක් කාම මුසපත්වීමක්, කාම පිපාසයක්, කාම දාහයක් තියෙනවා නම් එය තමා තුළ මැනැවින් ප්‍රහීණ වෙලා නැත්නම් තියුණු වූ කටුක වූ දුක් කොච්චර වින්දා කියලා ඔහුට නම් ඥාණයක් නම් පහළ වෙන් නෑ. ශ්‍රමණයන් වහන්සේ කොච්චර හිතාමතා උපක්‍රම කරලා දුක් වින්දත් නිවනක් අවබෝධ වෙන්නෑ, දුක් නොවින්දත් නිවනක් අවබෝධ වෙන්නෑ කියලා මට පෙර නොඇසූ විරූ ඒ උපමාව වැටහුනා කියලා කියනවා. ඒක ඔබට තේරුන් නැත්නම් මම මේ විදියට ආපහු ඒ කාරණාව මං කියන්නම්. මේකෙ තියෙන කාරණාව මං කියන්නම්. ඒ කාරණාව තමයි, වතුරේ දාලා තියෙනවානෙ, අර උපමාව පැහැදිලියිනෙ. වතුරේ දාලා ලීයක් තියෙනවා. එතකොට ඒ ලීයෙන් ගිනි උපද්දවන යන්ත්‍රය ගෙනාවා කියලා බෑ ඒක වතුරේ දාලනේ තියෙන්නෙ. ඒ වගේ තමයි කෙනෙක් ඉන්නවා කාමයෙන් වෙන් වෙලා නෑ, ඒ කියන්නෙ කාම ඇසුර ලබනවා, හිතෙත් කාමාශාව ගොඩාක් තියෙනවා. හැබැයි නිවන් දකින්න මහන්සි වෙනවා. එයාට නිවන් අවබෝධ වෙන්නෑ. ඒ කියන්නෙ එයා කයිනුත් කම්සැප විඳිනවා. හිතෙත් කාමාශාව තියෙනවා. හැබැයි නිවනකටත් මහන්සි වෙනවා. අවබෝධ වෙන් නෑ. ඊටපස්සෙ රාජකුමාරය මට දෙවෙනි උපමාව වැටහුනා. ඒ තමයි ලී කෑල්ලක් ගොඩට දාලා තියෙනවා. හැබැයි තෙතයි ගොඩාක්. එක්කෙනෙක් උත්තරාරණිය අරන් ඇවිල්ලා මං දැන් ගිනි උපද්දවනවා කියලා කරකවනවා. රාජ කුමාරය, පුලුවන්ද ගින්දර උපද්දවන්න.

තේජස උපද්දවන්න. අනේ ස්වාමීනී බෑ. හේතුව? අනේ ස්වාමීනී, ඒක දියෙන් ගොඩට දැම්මාට තෙත් වෙලා තියෙන්නෙ ඒ නිසා බෑ. ආන්න ඒ වගේ මට වැටහුනා රාජකුමාරය, යම්කිසි කෙනෙක් කයෙන් කාමයෙන් වෙන්වෙලා ඉන්නවා. ඔන්න බ්‍රහ්මචාරී වෙලා ඉන්නවා. කයෙන් කම් ඇසුරක් නෑ. තාපස ජීවිතයක් ගත කරනවා. බ්‍රහ්මචාරී ජීවිතයක් ගත කරනවා. කයින් කම්ඇසුරක් නෑ, හිතේ ආසාවල් ගොඩ තියෙනවා. හිතෙන් කාමය පත පතා හිත ඇතුලෙ යුද්ධෙ තියෙනවා. එතකොට අර දියෙන් ගොඩට දැම්මට ලීය තෙත් වෙලා තියෙන්නෙ. එයාටත් නිවන අවබෝධ කරගන්න අමාරුයි. එයා කොච්චර මහන්සි වුනත් එයාට අවබෝධ වෙන්නෑ, ඊටපස්සෙ දියෙන් ගොඩට දාලා තියෙනවා වේලිච්ච එකක්. දැන් පුලුවන්ද කියලා ඇහුවා. දැන් පුලුවන්. ආන්න ඒ වගේ තමයි, කයිනුත් කම් සැප අත්හැරලා, සිතිනුත් කාමාශාව නැත්නම් එයාට හිතිනුත් වීර්යය ඕනතරම් වීර්යය කළොත් ධර්මය අවබෝධ වෙන්න පුලුවන්. ඒ නිසා මහා බෝධිසත්ත්වයෝ කයිනුත් කම්සැප අත්හැරපු කෙනෙක්. හිතෙත් සිතිවිලි නෑ, මං හොඳට වීර්යය කරන්න ඕන කියලා තමයි දැන් මේ වීර්යය කරන්නෙ. ඊටපස්සෙ පින්වත් රාජකුමාරය, එතකොට මට මෙහෙම හිතුනා. මං යටිදත් වලින් උඩුදත් තද කොට, දිවෙන් තල්ල තද කොට, කුසල් සිතින් කෙලෙස් දැඩි සිත තලන්න ඕන, පෙළන්න ඕන, විශේෂයෙන් තවන්ට ඕන කියලා ඉතින් රාජකුමාරය මම යටිතල්ලෙන් උඩු තල්ල තද කරලා දත් හපාගෙන අකුසල් තවනවා කියලා දැඩිව වීර්යය කලා. එතකොට පින්වත් රාජකුමාරය මං එහෙම කරද්දි මං ඒ විදියට දැඩි කොට තලද්දි පෙලද්දි විශේෂයෙන් තවද්දි කිහිලි වලින් දාඩිය වැගිරෙන්න ගත්තා. ඔන්න දුෂ්කරක්‍රියාව. ඊටපස්සෙ රාජකුමාරය බලවත් පුරුෂයෙක් දුර්වල පුරුෂයෙක් අල්ලලා තලනකොට අමාරුවක් තියෙනවාද අන්න ඒ වගේ ශාරීරික අපහසුතාවයක් ආවා. මගේ කිහිලි වලින් දාඩිය දැම්මා. පින්වත් රාජකුමාරය, මගේ වීර්යය නම් පටන් ගත්ත විදියටම තිබ්බා. ඒ වගේම හිතත් පැකිලෙන්නැතිව තිබ්බා. සිහියත් මුලාවෙන්නැතිව තිබ්බා. ඒත් කයෙන් වීර්යය නැමැති ඊපහර කෑවා වගේ ශරීරය වෙහෙසට පත්වුනා. ශරීරය නොසන්සුන් වුනා. එතකොට මට මෙහෙම හිතුනා, මං අප්‍රාණක ධ්‍යානය වඩන්න ඕන කියලා. රාජ කුමාරය මං නාසයෙනුත් මුඛයෙනුත් ආශ්වාස ප්‍රාශ්වාස කිරීම නැවැත්තුවා. ඉතින් රාජ කුමාරය මුඛයෙනුත් නාසයෙනුත් ආශ්වාස ප්‍රාශ්වාස කිරීම නැවැත්තුවට පස්සෙ මගේ කන්වලින් අධිමාත්‍ර ශබ්දයකින් යුතුව වාතය පිටවෙන්න ගත්තා. ඒක හරියට රන්කරුවෙක් මයිනහමකින් පිඹිද්දි ඇතිවෙන

අධිමාත්‍ර ශබ්දයක් වගේ. ඔය විදියට පින්වත් රාජ කුමාරය, නාසයෙනුත් මුඛයෙනුත් ආශ්වාස ප්‍රාශ්වාස කිරීම නැවැත්තුව මගේ කන්වලින් අධිමාත්‍ර ශබ්දයක් පිටවෙන්න ගත්තා. පින්වත් රාජකුමාරය, වීර්යය නම් පටන් ගත්තු විදියටම තියෙනවා, හිතත් හැකිලෙන්නැතිව තියෙනවා. සිහිය මුලාවෙන්නැතිව තියෙනවා. දුක් පීඩා ඇති වීර්යයෙන් යුතුව, අධික වීර්යය නැමැති ඊපහර කෑ මගේ ශරීරය නම් ගොඩාක් වෙහෙසට පත්වුනා. නොසන්සුන් වුනා. පින්වත් රාජකුමාරය මට එතකොට මෙහෙම හිතුනා. මං තවදුරටත් අප්‍රාණික ධ්‍යානය වඩන්න ඕන කියලා. ඊටපස්සෙ මං මුඛයෙනුත්, නාසයෙනුත්, කන්වලිනුත්. කනුත් අගුල් දාගත්තා. ඒ කියන්නෙ එච්චර කය හිතට අනුව හදලා තියෙනෙවා. ඊටපස්සෙ එහෙම ආශ්වාස ප්‍රාශ්වාස කරන්නැතිවම ඉන්නවා දැන්. එහෙම ඉන්නකොට මට ශරීරයේ අධිමාත්‍ර වේදනාවක් හටගත්තා. බලවත් පුරුෂයන් දෙදෙනෙක් දුර්වල පුරුෂයෙක්ගේ අත්පා වලින් අල්වාගෙන ගිනිඅඟුරු වලක තවනවාද, බලවත්ව තවනවාද, පින්වත් රාජකුමාරය, ඔය විදියට මුඛයෙනුත්, නාසයෙනුත්, කන්වලිනුත් ආශ්වාස ප්‍රාශ්වාස කිරීම නැවැත්වූ විට මගේ ශරීරයේ අධිමාත්‍ර වූ වේදනාවක් හටගත්තා. එතකොට මට මෙහෙම හිතුනා. මං තවදුරටත් අප්‍රාණික ධ්‍යානය වඩනවා කියලා. ඉතින් රාජකුමාරය, මං මොකද කලේ, මුඛයෙනුත් නාසයෙනුත්, කන්වලිනුත් ආශ්වාස ප්‍රාශ්වාස කිරීම සම්පූර්ණයෙන්ම නැවැත්තුවා. එතකොට මගේ හිසේ පුදුම වේදනාවක් හටගත්තා. බලවත් පුරුෂයෙක් දැඩි වූ වරපටකින් හිස දැඩිකොට වෙලා තද කරනවා වගෙයි. පින්වත් රාජකුමාරය, ඔය විදියට මුඛයෙනුත්, නාසයෙනුත්, කන්වලිනුත් ආශ්වාස ප්‍රාශ්වාස කිරීම නැවැත්වූ විට මාගේ හිසේ ඔය විදියට අධිමාත්‍ර වේදනාවක් හටගත්තා. ඉතින් මගේ වීර්යය ඒ විදියටම තියෙනවා, හැකිලිලා නෑ, සිහිය මුලාවෙලා නෑ. නමුත් බලවත්ව දුක්ව ගන්න මේ වීර්යය නිසා මගේ කය ගොඩාක් දුර්වල වුනා. වෙහෙසට පත්වුනා. රාජකුමාරය එතකොට මං තව හිතුවා, තවත් මං අප්‍රාණික ධ්‍යානය වඩනවා කියලා. ඒ විදියට මං හුස්ම නවත්තලා ඉන්නකොට මගේ බඩේ පුදුම වේදනාවක් හටගත්තා. ගව ඝාතකයෙක් පිහියක් අරගෙන හරකෙක්ගෙ බඩ කපනවා වගේ මගේ වේදනාව එන්න ගත්තා. ඒත් මං ධ්‍යානය නැවැත්තුවේ නෑ. ඉතින් මගේ කය ගොඩාක් වෙහෙසට පත්වුනා. ඒත් වීර්යය තිබ්බා. ඉතින් නතරකරන්න හිතෙන් නෑ, ඒකයි වීර්යය හැකිලිලා නෑ කියන්නෙ. පටන් ගත්ත විදියටම තියෙනවා. ඇඟ එච්චර දුර්වල වෙලා වේදනාව දෙද්දිත්. ඊටපස්සෙ කියනව මං තවදුරටත් ඔය විදියට අප්‍රාණික ධ්‍යානය වඩන්න ගත්තා. ඒ විදියට

වඩනකොට මාගේ ශරීරයේ අධිමාත්‍ර වූ තව තවත් වේදනාවන් හටගත්තා. කියනවා පුරුෂයන් දෙදෙනෙක් දුර්වල පුරුෂයෙක්ගේ අත්පාවලින් අල්වාගෙන මුඛයෙන් නාසයෙන්, බුදුරජාණන් වහන්සේ දේශනා කලා, පින්වත් රාජකුමාරය, තවදුරටත් මං අප්‍රාණික ධ්‍යානය වැඩුවා. එතකොට ආයෙ හුස්ම ගන්නෙම නෑ. ඒත් හුස්ම ගන්නේම නැතිව ඉන්නකොට දුර්වල පුරුෂයෙක් බලවත් පුරුෂයො දෙන්නෙක් ඇවිල්ලා එයාව අඟුරු වලේ දාලා තවනවා වගේ වේදනාව ආවා කියනවා හුළං නවත්වනකොට. කන්වලින්, නාසයෙන්, මුඛයෙන් සුළඟ නවත්තලා, ඒත් අප්‍රාණික ධ්‍යාන. ඒ කියන්නෙ ශරීරයේ වේදනාව තුළින්ම, පණ ගියත් වේදනාව තුළින්ම උපදින හිතේ සමාධිය එක විදියටම තියාගෙන ඉන්නවා. වේදනාව තුළින්ම සමාධිය පවත්වනවා. පණ යන වේදනාව තුලින්ම සමාධිය පවත්වනවා. ඉතින් ඊටපස්සෙ මං මේ විදියට පටන් ගත්ත වීර්යයෙන්ම ඉන්නකොට රාජකුමාරය, දෙවිවරු මාව දැකලා මෙහෙම කතා වුනා. දැන් එහෙම ඉඳලා දැන් වේදනාවෙන්ම ඉන්නවානෙ. එතකොට දෙවිවරු කතාවෙනවා කියලා කියනවා, මහබෝධිසත්ත්වයන්ට ඇහුණා ඒක. ඒ තමයි ශ්‍රමණ භවත් ගෞතමයො අපවත් වුනා කිව්වා. දෙවිවරු කතාවුනාලු. ඊටපස්සෙ රාජකුමාරය, තව දෙවිකොටසක් කතා කලා, නෑ නෑ ඔය අපවත් වෙලා නෙවෙයි, ඕං රහත් වෙලා ඔය ඉන්නේ කියලා. ඒ කියන්නෙ ඒ කාලෙ රහතන් වහන්සේලා ගැන දෙවිවරු දන්නෑ. දෙවිවරු හිටියේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ රහත් වෙලා කියලා. ඊටපස්සෙ කිව්වා රහතන් වහන්සේලා ඔය විදියට තමයි ඉන්නේ කියලා. පින්වත් රාජකුමාරය, මට මෙහෙම හිතුනා, එහෙම නම් මං සර්වප්‍රකාරයෙන්ම ආහාර ගන්න එක නවත්වනවා කියලා, ඊටපස්සෙ මම ආහාර නවත්වනවා කියනකොට දෙවිවරු ඇවිල්ලා කිව්වා අනේ ස්වාමීනී, ආහාර ගන්න එක නතර කරන්න එපා. ආහාර ගන්න එක නතර කලොත් අපි ඇවිල්ලා රෝම කූප වලින් දිව්‍ය ඕජාව දානවා. එතකොට බෝධිසත්ත්වයෝ කල්පනා කලා මමත් ආහාර නතර කරනවා නම්, මේ අය ඇවිල්ලා දිව්‍ය ඕජාව දැම්මොත් මගේ අධිෂ්ටානය සඵල වෙන්නෑ, ඒ නිසා කිව්වා නෑ ඔහේලා ඉන්න. පින්වත් රාජකුමාරය, එතකොට මට මෙහෙම හිතුනා, මං මුං යුෂ වේවා, කොල්ලු යුෂ වේවා, කඩල යුෂ වේවා, මෑ යුෂ වේවා, ටික ටික ස්වල්ප ස්වල්ප පමණක් ආහාර වශයෙන් ගන්නවා කියලා. ඉතින් පින්වත් රාජකුමාරය මං මුං යුෂ,කොල්ලු යුෂ, කඩල යුෂ මේවා චුට්ට චුට්ට ගන්නකොට රාජකුමාරය මාගේ ශරීරය ගොඩාක් දුර්වල වෙලා ගියා, අතිශයින් කෘෂ බවට පත්වුනා. ආතීශයික වැල් පුරුක් වගේ පෙනුනා. මට ඔය

විදියට ඉතාමත් යාන්තමින් ආහාර ගත්තු නිසා මාගේ ඇඟපත ඒ විදියටම කෙට්ටු වෙලා ගියා. කෑම්බීම් කොයිතරම් අඩුවෙන් ගත්තාද කිව්වොත් මගේ තට්ටම් කෙට්ටු වෙලා ගියේ ඔටුවෙකුගේ පියසටහන් වගේයි. වට්ටනාවලී කියලා ගැට හැදිච්ච වැල් ජාතියක් තියෙනවා. මගේ කොඳු ඇට පේළිය ඒ වගේ වුනා. කෑම්බීම් අඩුවෙන් ගත්තු නිසා තමයි ඒ වගේ වුනේ. ඒ වගේම හොඳට දිරපු ශාළාවක වහලෙ පරාල තියෙන්නෙ, එහාට මෙහාට උස් පහත් වෙලා, කෑම් බීම් අඩුවෙන් ගැනීම කොච්චරද කිව්වොත් මගේ පපුවේ ඇට ගොඩ පෙනුනෙ ඒ විදියටයි. ඒ වගේම ගැඹුරු ළිඳක් තියෙනවා කියලා හිතන්න. ඒ ළිඳ කොච්චර ගැඹුරුද කිව්වොත් වතුර ටික යාන්තම් දිලිසෙනවා පේනවා. ඔන්න ඔය විදියට තමයි මගේ ඇස් දෙක ඇස් වලේ යටටම ගිලිලා යාන්තම් දිලිසුනා. කෑම්බීම් යාන්තම් අඩුවෙන් ගත්තු නිසා තමයි ඒ විදියට වුනේ. ඒ වගේම අමුවෙන් කඩලා අව්වට වේලිලා ගිය ලබු ගෙඩියක් ගැන හිතන්න. මාගේ හිසේ හමත් ඒ විදියට මැලවිලා තිබුනෙ. රැලි වැටිලා ගියා. කෑම්බීම් අඩුවෙන් ගත්තු නිසා තමයි ඒ විදියට වුනේ. පින්වත් රාජකුමාරය, මගේ බඩේ හම අතින් පිරිමදිනකොට කොඳුඇට පේළිය හමුවුනා. කොඳු ඇට පේලිය අතගානකොට බඩේ හම අතට අහුවුනා. පින්වත් රාජකුමාරය කෑම් බීම් අඩුවෙන් ගත්තු නිසා තමයි මට එහෙමවුනේ. රාජකුමාරය වැසිකිළි යන්න හදනකොට එතනම යටිකුරුව වැටුනා. පින්වත් රාජකුමාරය, කෑම්බීම් අඩුවෙන් ගත්තු නිසයි ඒක වුනේ. රාජකුමාරය මාගේ අතපය පිරිමදිනකොට ඇඟේ මවිල් වල මුල් කුණුවෙලා ඉදිරිලා බිමට වැටුනා. කෑම්බීම් අඩුවෙන් ගත්තු නිසයි එහෙම වුනේ. පින්වත් කුමාරය මාව දුටු මිනිස්සු මෙහෙම කතා වුනා. ශ්‍රමණ භවත් ගෞතමයො දැන් කළු වෙලා කියලා. සමහර අය කතා වුනා, නෑ ශ්‍රමණ භවත් ගෞතමයො දැන් අඳුරු පාට වෙලා කියලා, සමහරු කිව්වා නෑ ඔය රත්තරන් පාටම තමයි කියලා. ඒ විදියට අඳුරු වෙලා ගියා. පින්වත් රාජකුමාරය, එතකොට මට මෙහෙම හිතුනා. අතීත කාලයේ යම්කිසි කෙනෙක් දුකක් විඳින්න ඕන නම්, වින්දා නම් මම ඒ ටික ඒ විදියටම වින්දා. අනාගතේත් කවුරුහරි විඳිනවා නම් ඒ දුකත් වින්දා. මීට එහා නම් දුකක් නෑ, යම් මනුස්සයෙක් විඳින්න පුලුවන්නම් දුකක් ඒ උපරිම දුක් මං වින්දා කියලා මට මතක් වුනා. ඊටපස්සෙ පින්වත් රාජකුමාරය, මං ඒ දුෂ්කරක්‍රියාවෙන් මට අවබෝධ ඥාණයක් ලබාගන්න බැරිවුනා. සත්‍යාවබෝධය ලබාගන්න බැරිවුනා. මට වෙන මාර්ගයක් ඇත්ද කියලා මතක් වුනා. එතකොට මට මතක් වුනා වප්මගුල් දවසේ දඹ ගහ සෙවනේ වඩපු ආනාපානාසති භාවනාව.

ඊටපස්සෙ දැන් මෙතනින් පස්සෙ ඒ ආනාපානාසති භාවනාව මතක් වුනා, එතනින් පස්සෙ කුමක්ද සිද්ධ වුනේ කියලා අපි ඊළඟ වැඩසටහනෙන් කතා කරමු. බලන්න කොච්චර දුක් කන්දරාවක් වින්දද කියලා. අපිට නිවන ලබාදෙන්න මේ සියලු දුක් කන්දරා විඳින්නෙ. අපි වෙනුවෙන් මෙච්චර දුක් වින්ද, නිවන ලබලා දෙන්න මගේ බුදුරජාණන් වහන්සේ. මේ කරුණු කාරණා තේරුම් අරන් මුළු හදවතින්ම සරණ යන්න. උන්වහන්සේ අපිට ලබලා දුන්නු පිහිට සළසා ගන්න. ඒ නිසා මුළු හදවතින්ම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. බුදුරජාණන් වහන්සේ දුක සේ මේ ලෝකයට බොහෝ පාරමිතාවන් පුරලා බොහෝ වීර්යය අරන් ලොව්තුරා සම්බුද්ධත්වයට පත්වෙලා අවබෝධ කරපු ධර්මය අවබෝධ කරන්න ඔබ අප කාටත් වාසනාව ලැබේවා.

අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා ඔස්ට්‍රේලියාවේ ඉගෙනුම ලබන පින්වත් පී.කේ. ලකිඳු තිවංක මහත්මයා තමයි දායකත්වය දරන්නෙ. ඉතින් සියලුම පින් අපි අනුමෝදන් කරමු අපි සියලු දෙවි දේවතාවුන් වහන්සේලාටත්, විශේෂයෙන් ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ කොරෝනා වසංගතය දුරින්ම දුරු වෙලා මනුස්ස වර්ගයාට සියලු යහපත නිරෝගී සුව සැලසේවා කියලා පළමුවෙන් සෙත් ප්‍රාර්ථනා කරමු. සියලු දෙවිවරු මේ පින් අනුමෝදන් වී මේ සියලු මනුස්ස වර්ගයා ආරක්ෂා කරත්වා කියලා අපි දෙවිවරුන්ට පින් දෙනවා. ඒ වගේම විශේෂයෙන් මේ පින්වතුන් නමින් මියපරලොව ගිය ඥාතීන්ට අනුමෝදන් වී පරලොව සැපය වේවා. ඒ වගේම පරමපූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ උතුම් දේශනා සරල සිංහලයට පරිවර්තනය කරලා අපිට මේ දහම් ඇසුර ලබාදුන්නා. පින්වත් ගුරුදෙවිඳුන් නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ ලබත්වා. සියලුම ස්වාමීන් වහන්සේලාත්, අනගාරිකා මෑණිවරුනුත්, පැවිදි අපේක්ෂක දරුවනුත් ගෞතම බුදුසසුනේ උතුම් ධර්මාවබෝධය ලබත්වා. ඒ වගේම ඔස්ට්‍රේලියාවේ ඉගෙනුම ලබන පින්වත් ටී.කේ. ලකිඳු තිවංක මහත්මයාටත්, සුජීවත්ව සිටින දෙමව්පියන්ටත්, සහෝදර සහෝදරියන්ටත්, ඥාති හිතමිත්‍රාදීන්ටත් නිදුක් නිරෝගී සුවපත්භාවය සැලසේවා. අද දවසේ අපගේ ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ අමා මහ නිවන සොයාගෙන ගමනේ සිදුවූ සිදුවීම් බුදු මුවින්ම වදාළ දහම් පරියායන් ඉගෙන ගැනීමේ පින් බලය ඒකාන්තයෙන් අපිට භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළ ධර්මය

අවබෝධ කරගැනීම පිණිසම ඔබ සියලු දෙනාටම මේ පින හේතු වාසනා වේවා. ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ සියලු කාර්ය මණ්ඩලයට, දායකත්වය දරන සියලු දෙනාට, මව් දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන්ට, ඔබ සියලුදෙනාට උතුම් සම්බුදු සරණින් සියලු සැනසිල්ල වේවා. ධර්මාවබෝධ කිරීමේ වාසනාව උදාවේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=AK8XfPfwnXo&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=17

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් අවබෝධයෙන් යුතුව තෙරුවන් සරණ යෑම පිණිස උපකාරක වූ දහම් කරුණු තමයි කියලා දෙන්නෙ. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේගේ උපදෙස් මත අපි මේ දහම් වැඩසටහන මේ විදියට ආරම්භ කළේ. එතකොට අවබෝධයෙන් තෙරුවන් සරණ යනවා කියලා එකකුත්, අවබෝධයක් නැතිව පැහැදෙනවා කියලා එකකුත් තියෙනවා. ඒකට තමයි ආකාරවතී ශ්‍රද්ධාව සහ අමූලිකා ශ්‍රද්ධාව කියලා කියන්නෙ. අමූලිකා ශ්‍රද්ධාව කියන්නෙ ඒකට මුලක් නෑ, කරුණු නෑ. ගොනු වෙච්ච දෙයක් නෑ. එතකොට එකපාරම යමකින් පැහැදීමක් උපදිනවා. ඒක වහා නැතිවෙලා යනවා. එතකොට ආකාරවතී ශ්‍රද්ධාව කියන්නෙ එහෙම නෙවෙයි. කරුණු තේරුම් ගැනීම තුළින්, කරුණු වැටහීම තුළින් තමයි ඇතිවෙන්නෙ. දැන් මේ බුදුරජාණන් වහන්සේගේ උතුම් සම්බුදු සිරිත මේ විදියට ඉගෙන ගන්නකොට ඉගෙන ගන්නකොට තමයි බුදුරජාණන්

වහන්සේ තුන් ලෝකයේම අසහාය ශාස්තෘන් වහන්සේ බව හිතට වැටහෙන්නෙ. ඒ තුළින් යම්කිසි පැහැදීමක් හිතුනොත් එහෙම ආන්න ඒ පැහැදීම කරුණු සහිතයි. එතකොට එන්න ඒ ප්‍රසාදය නම් ඒ ශ්‍රද්ධාව නම් ආකාරවතී ශ්‍රද්ධාව විදියට අපිට සළකන්න පුලුවන්. ඉතින් අද දවසෙත් මේ උතුම් දහම් වැඩසටහන ශ්‍රද්ධා රූපවාහිනියෙන්, ලක්විරු ගුවන්විදුලියෙන් විකාශනය කරවන්නට දායකත්වය දරන්නේ අංක 153/එම්, නුගහේන මාවත, කඩවත පාර, ගනේමුල්ල ලිපිනයේ පදිංචි පින්වත් ඩබ්ලිව්.ඒ. සංජීවනී ඉන්දිකා මෙනෙවිය විසින් තමයි මේ දහම් වැඩසටහන සඳහා අද දවසේ දායකත්වය දරන්නෙ. ඉතින් ඒ පින්වතුන් බොහෝ යහපතක්, බොහෝ සැනසිල්ලක් උදාකරගන්නවා අද මේ ධර්ම දානය සිද්ධ කරලා. ධර්ම දානය කියන එක සුලු පිනක් නෙවෙයි. ඒක අග්‍ර පිනක්. අන් අයට ධර්මයෙන් කරන අනුග්‍රහය අග්‍රයි. ආමිසයෙන් කරන අනුග්‍රහයට වැඩිය ධර්මයෙන් කරන අනුග්‍රහය අග්‍රයි. දැන් ආමිසයෙන් අපි කියමු ආහාර වේලක් දෙනවා කියලා. ඒක හොඳ දෙයක්, පින්සිදු වෙන දෙයක්. එක වේලකින් ඉවරයි. නමුත් ධර්මයෙන් කරන අනුග්‍රහයක් තිබ්බොත් ඒක තමයි එයාගෙ මුළු ජීවිතේම වෙනස් කරන්නෙ. මුළු ජීවිතේම සැපවත් කරන්නෙ. සමහර විට දහම් අනුග්‍රහයකින් මේ ධර්මය බණපදයක් අහලා ජීවිතේ වෙනස් වුනොත්, සමහරවිට සතර අපායේ වැටෙන්න ඉන්න කෙනෙක් නිදහස් වෙලා සුගතියට යන්නෙ. එතකොට අර කල්ප අවුරුදු කෝටි ගාණක් දුක් විඳින ගිනිදැල් වලින් දුක් විඳින ඒ නිරයකින් ගොඩ ගියා කියන එක සුලු දෙයක්ද. ඉතින් ඒ නිසා මේ ධර්මයෙන් කරන අනුග්‍රහය ශ්‍රේෂ්ටයි කියන කාරණාව මුලින්ම අපි සිහිපත් කරනවා. අපි මීට කලින් දහම් වැඩසටහනේදි කතා කළේ ඒ අපගේ මහා බෝධිසත්ත්වයන් වහන්සේ දුෂ්කරක්‍රියා කරපු විදිය. ඒ දුෂ්කරක්‍රියාව අසාමාන්‍යයයි, සිතාගත නොහැකියි. මට පස්සෙ කල්පනා වුනේ, එච්චර දුකක් විඳලා, එච්චර ශරීරයට දැඩි දුක් දෙමින් ජීවිතේ පුරුදු කරලා නිවන් අවබෝධ කරගන්න මහන්සි වෙලා අමා මහ නිවන අවබෝධ කරගත්ත තථාගත බුදුරජාණන් වහන්සේ අපිට වදාළේ නෑ, ඒ විදියට දුක් විඳින්න කියලා. ඉතින් එහෙම එකේ අපිට බැරිවුනොත් එහෙම තෙරුවන් සරණවත් යන්න බැරිවුනොත් එහෙම ඒක මහා අභාග්‍යයක්. ඉතින් ඒ නිසා මේ පින්වතුන් කල්පනා කරන්න ඕන අඩුම තරමේ තෙරුවන් සරණවත් යන්න ඇත්නම් මේ බුද්ධ ශාසනේ ඒකත් අපි බුදුරජාණන් වහන්සේට කරන උත්තම ප්‍රතිපත්ති පූජාවක් බවට පත්වෙනවා. ඉතින් අද දවසේ කල්පනා කලේ එදා අපි ආනාපානාසතිය භාවනාව මහාබෝධිසත්ත්වයන් වහන්සේට

මතක් වෙච්චි විස්තරය එදා අපි කතා කලා. එතකොට ආනාපානාසතිය මතක් වුනේ ඒ සියලූම දුක් කන්දරාව විඳලා. මේ ලෝකයේ මනුස්සයෙක් විදියට විඳින්න ඕන යම්තාක් දුක් තියෙනවාද, ඒ සියල්ලම මහා බෝධිසත්ත්වයෝ වින්දා. ඊටපස්සෙ තමයි ආනාපානාසතිය මතක් වෙලා උන්වහන්සේ හිතුවේ මේකවත් නිවනට මාවතක්දෝ කියලා. හැබැයි ඒ අතරතුර සිද්ධ වුන තව සිද්ධියක් තියෙනවා. ආන්න ඒ සිද්ධිය සුත්ත නිපාතයේ පධාන කියන සූත්‍ර දේශනාවේ දිවිපුදා වීර්යය වැඩූ ආකාරය විස්තර වෙන සූත්‍ර දේශනාවේ ඒ විස්තරය සඳහන් වෙනවා. ඒ තමයි නේරංජනා නදී තීරයේ ජීවිතේ පරදුවට තබලා අමා මහ නිවන පිණිස දැඩි වීර්යය ගත්ත මහා බෝධිසත්ත්වයන් වහන්සේ සමාධිය බලවත්ව වඩමින් හිටියා. එතකොට එහෙම ඉන්නකොට මාරයා, පින්වතුනි මාරයා මහා බෝධිසත්ත්වයන් වහන්සේ පිටිපස්සේ ඇවිල්ලා තියෙනවා සිද්ධාර්ථ ගෞතමයන් වහන්සේ කපිලවස්තුවේ මාළිගාවෙන් එළියට එනකොටම ආකාශේ ඉඳලා කියනවානෙ යන්න එපා, සක්විති රජකම හම්බවෙනවා තව දවස් හතක් ගිය තැන කියලා. අනේ උඹගේ සක්විතිකම් උඹටම තියාගනින් කියලා මහා බෝධිසත්ත්වයෝ ඒ ගමන නතර කරන් නෑ. මොකද දස පාරමී ධර්මයන් පුරාගෙන, අනන්ත අපරිමාණ නෙක්ඛම්ම පාරමිතාවක් පුරාගෙන, අධිෂ්ටාන පාරමිතාවක් පුරාගෙන දන් දිදී සත්‍යය පුරුදු කර කර ආවෙ ඕන්න ඔය ගමන යන්න. ගිහි ජීවිතේ අතහැරලා යන්න. එතකොට මතකද අර මහාජනක ජාතකයේ සීවලී දේවීන් වහන්සේ මහාපිරිසක් එක්ක ඇවිල්ලා කොයිතරම් නම් පාර හරස් කර කර මහණකමට යන්න එපා කියලා කිව්වාද. එතකොට අසංඛෙය්‍ය අප්‍රමාණ වාරයක් එවැනි බාධක ජයගෙන නෙක්ඛම්මයට ගිය මහා බෝධිසත්ත්වයන් වහන්සේ සියලු පාරමිතා පුරපු තැන කවුරුත් හරහට හිටියා කියලා ඒ මුල් කරගෙන ඒ මහා බෝධිසත්ත්වයන්ගේ නෙක්ඛම්මයට තිබූ පාදය ආපස්සට හැරෙන් නෑ. ඉර හඳ නැතිවෙලා ගියත්, ආකාශය අතුරුදහන් වුනත්, මහපොළොව අතුරුදහන් වුනත් ඒවා වෙන්න පුලූවන්. ඒ වුනාට අභිනිෂ්ක්‍රමණයට තිබ්බ පාදය ආපස්සට හැරෙනවා කියලා එකක් සිද්ධ වෙන්නෑ. ආන්න එදා ඉඳලා තියන තියන පියවරක් පාසා මාරයා ලුහුබැන්දා කියනවා, මහා බෝධිසත්ත්වයන් වහන්සේ පිටිපස්සෙ. හැම පියවරක්ම, ඒ කියන්නෙ අවුරුදු හයක් දුෂ්කරක්‍රියා කරද්දි, බුදුවෙලත් තව අවුරුද්දක්, අවුරුදු හතක් එක දිගට හැම පියවරක් පිටිපස්සෙම ආවා කියනවා මාරයාට සිදුරක් හොයන්න මහා බෝධිසත්ත්වයන්ගේ. සිදුරක් හොයන්න. එතකොට අවුරුදු හයටම දුෂ්කරක්‍රියා, සම්බුදු නොවී සිටියදී, ඒ

අවුරුදු හයටම එක පියවරකවත් මාරයාට ඇඟිලි ගහන්න පුලුවන් දුර්වලතාවයක් මහා බෝධිසත්ත්වයන්ගේ තිබ්බෙ නෑ කියන්නෙ, සම්මා සම්බුදු වුනු ජීවිතේ ගැන කවර කතාද. ඉතින් එදා දුෂ්කරක්‍රියා කරන නේරංජනා නදිය අයිනේ බලවත් සමාධියට සමවැදිලා ඉද්දින් ඒ මොහොතේ ඉස්සරහින් පෙනී හිටියා මාරයා. හරී කාරුණිකව කතා කලා. කතා කරලා කියනවා කිසෝ තෝමසි දුබ්බන්නෝ, බලන්න ගොඩාක් කෙට්ටු වෙලා, කැත වෙලා ගිහිල්ලා. ඊටපස්සෙ කියනවා සන්තිකේ මරණං තව, ඔබ ඉන්නෙ මරණය ළඟ. දැන් මාරයා කරුණාවෙන් කියනවා. සහස්ස භාගෝ මරණස්ස ඒකංසෝ තවජීවිතං, දාහක් කරුණු තියෙන්නෙ මැරෙන්න, ඔබගේ ජීවත්වීමට තව තියෙන්නේ එකම එක කාරණාවයි. එකම එක භාගයයි ජීවත් වෙන්න තියෙන්නෙ. දාහක් කරුණු තියෙනවා, දාහක් පංගු තියෙනවා මැරෙන්න. මැරෙන්නමයි ඔබ ළඟ. ජීවබොහෝ ජීවිතං සෙයයා, භවත්නි ජීවත් වෙන්න, ජීවත් වෙන එකනෙ හොද. ජීවං පුඤ්ඤානි කාහසිං, ජීවත් වුනාට පස්සෙ ගොඩාක් පින් කරන්න පුලුවන්නෙ. දැන් බලන්න අර වීර්යය අත්හරවන්න, ඒ නිවන් මාර්ගය වළක්වන්න මාරයා කරුණාවෙන්, කාරුණික බසින් කියනවා කියනවා ඉස්සරහට ඇවිල්ලා. ඊටපස්සෙ කියනවා ඔබ ඔය කරන බ්‍රහ්මචරියාවත් එක්ක යාග හෝම ගිනි පූජා ඒවා එහෙම කරගත්තොත් ඉතින් මහා පුණ්‍යස්කන්ධයක් රැස් කරගන්න පුලුවන්. මේ ඔක්කොම කරන්නේ මේ වීර්යය නතර කරන්න. බය වුනා, තැතිගත්තා, මාරයා මාරයාගේ ඇසටවත්, මේ තුන්ලෝක ධාතුවේම මාරයා දුටුවේ නෑ මේ වාගේ වීර්යය කරන කෙනෙක්. ඒ වීර්යය නතර කරන්නයි, ඒ විදියට කිව්වෙ. ඔබ ඔය රකින බ්‍රහ්ම චරියාවත් එක්ක ගිනිපූජා, යාගහෝම කලොත් මහා පිනක් රැස් කරගන්න පුලුවන්. සිද්ධාර්ථ ඔබ දැන් මේ මහා පිනක් රැස් කරගන්න, ඔය වීර්යය අත්හරින්න. මාරයා, මාරයාග් ඇසින් දැක්කෙ නෑ තුන් ලෝකධාතුවේම මහා බෝධිසත්ත්වයෝ තරම් වීර්යය කරන කෙනෙක්. ඒකයි භය වුනා ඒ විෂය ඉක්මවා යයි කියලා. මේ ඇටසැකිල්ලක් වෙලා අප්‍රාණික ධ්‍යානය වඩද්දි මාරයා ඇවිල්ලා කියන්නෙ. එතකොට බලන්න පියවරක් පාසා ඔහු හිටියා, ඒ ගමනට බාධා කරන්න. ඊටපස්සෙ තියෙනවා, ජීවිතේ පරදුවට තබා ඔය විදියට දුෂ්කරක්‍රියා කරන්න එපා. ඔය විදියට වීර්යය කරපු කෙනෙක් මේ ලෝකෙ ජයගත්තෙ නෑ, කියලා දැන් මේ ගමන බාධා කරන්න මාරයා ළඟ ඉදලා කියනවා. එතකොට බලන්න මහා බෝධිසත්ත්වයන්ට තනියෙන් කොච්චර බාධා ගොඩකට මුහුණ දෙන්න සිද්ධවුනාද. එතකොට මේවා ගැන කියලා

දෙන්න කවුරුත් ඉන්නවද මහා බෝධිසත්ත්වයන්ට. මාරයා කියන්නෙ කවුද, කොයි වගේ කෙනෙක්ද, ඒවා කියලා දෙන්න කවුරුත් ඉන්නවද, මොනවත් නැතිව තනියෙන් තේරුම් ගත්තානෙ. තං තතාවාදි තං මාරං භගවා ඒතං ... ඒ විදියට කිව්වට පස්සේ මහා බෝධිසත්ත්වයන් වහන්සේ මෙහෙම කිව්වා. පමත්ත බන්දු පාපිම යේනත්තේන ඉදාගතෝ, උඹ ඕකට නේද ආවේ, ප්‍රමාද වූ ජනයාගේ ඥාතියා, පමත්ත බන්ධූ, ප්‍රමාද වූ කෙනාගේ ඥාතියා තමයි පාපී මාරයා. අනුමත්තේන පුඤ්ඤේන අත්තො මය්හං නවිජ්ජති. දැන් මහා බෝධිසත්ත්වයෝ කියනවා මට අනුමාත්‍ර පිනක් හොයාගෙන ආපු ගමනක් නෙවෙයි කියනවා මං. මට අනුමාත්‍ර පිනකින් වත් මට වැඩක් නෑ කියනවා. ඇයි පින්වතුනි මේ ලෝකයේ පින කියන එක වඩන්න පුලුවන් නම් රැස් කරන්න පුලුවන් නම් ඒ සියලුම පින් අග්‍ර විදියටම රැස් කලානෙ දස පාරමී පුර පුර මහා බෝධිසත්ත්වයෝ. මේ අවසාන ජීවිතේ මොන පිනක්ද. මට පිනක් කියන එකේ අංශුමාත්‍රයක් ඕන්නෑ කිව්වා. ඒසං වත්තෝ පුඤ්ඤානං තේ මාර වත්ති මරහති, උඹට පින් හොය හොයා යන කෙනෙකුට නම් උඹ ගිහිල්ලා ඔය කතාව කිව්වට කමක් නෑ. අත්ථි සද්ධා තතා විරියං පඤ්ඤාච මම විජ්ජති, මං ගාව ශ්‍රද්ධාව තියෙනවා. ඒ කියන්නෙ මම කරන කටයුත්ත ගැන මට විශ්වාසය තියනවා. වීර්යය තියෙනවා. ප්‍රඥාව තියෙනවා. ඉතින් ඒ නිසා නිවනට දිවි පුදලා මං මේ වැයම් කරනකොට උඹ මොනවද ඔය මාත් එක්ක ඇවිල්ලා කියන්නෙ. ඊටපස්සෙ කියනවා, නදීනම්පි සෝතානි අයං වාතෝ විසෝසයේ කිඤ්චමේ පහිතස්ස ලෝහිතං නූප සුස්සයේ, මගේ සිරුර පිසදාගෙන හුළඟ හමා ගියොත්, මගේ ජීවිතේ මං කරන වීර්යය තියෙනවානෙ හිතේ, මාගේ ලේ දහර වියළිලා කරන මේ වීර්යය කරන මා පිසදාගෙන සුළඟ හමාගෙන ගියොත් අර නේරංජනා නදියෙ තියෙන වතුර ටික වියළිලා යයි කිව්වා. ඊටපස්සෙ මගේ ඇඟ වීර්යය කර කර මෙච්චර වීර්යය කර කර මං මේ භාවනා කරද්දි, අකුසල් දුරු කරද්දි, කුසල් උපද්දවද්දි මගේ හිත ගොඩාක් සමාධිමත් වෙලා යනවා. ඉතින් ඒ නිසා මට මේ විදියට ක්‍රියා කරනකොට ගොඩාක් මට දුක් වේදනාව දැනෙනවා. ඒ දුක් වේදනාව මම මගේ සමාධියටම හරවගන්නවා. එතකොට මගෙ හිත ගොඩාක් ආපහු සමාධි වෙනවා. ඊටපස්සෙ කිව්වා මතක තියාගනින් පාපී මාරය, උඹ සේනා දහයකින් මේ ලෝක සත්ත්වයාට ගහනවා. ඔන්න ලෝකයට හා හා පුරා කියලා දසමාර සේනාව ගැන හෙළිවෙන තැන. පුදුමය පින්වතුනි, මේ මහා බෝධිසත්ත්වයෝ දුෂ්කරක්‍රියා කරද්දි මේවා හොයාගන්නෙ. කවුරුත් කියලා දීලද. පොතක පතක තිබිලද. ආලාරකාලාම, උද්දකරාමපුත්‍ර කියලා දීලද.

පුදුම සහගතයි, මේ දුෂ්කරක්‍රියාවේ තිබ්බ එකම වරද තමයි කියනවා, ආහාර නොගැනීම. කරපු වීර්යයේ අංශුමාත්‍රයක වැරදක් නෑ කියනවා. නාගසේන මහරහතන් වහන්සේ විස්තර කරනවා, ඒක තමයි අර ගියපාර බෝධිරාජකුමාර සූත්‍රයේ විස්තර කරද්දි ඒ හැමතැනකම කියනවා මට මෙහෙම වුනේ ආහාර අඩුවෙන් ගැනීමෙන්, මෙහෙම වුනේ ආහාර අඩුවෙන් ගැනීමන් කියලා බුදුරජාණන් වහන්සේ පවා දුෂ්කරක්‍රියාව විස්තර කරද්දි ආහාර අඩුවෙන් ගත්ත සිද්ධිය නිතර නිතර මතක් කරනවා. එතකොට මේ බලන්න ප්‍රඥාව, දස මාර සේනා ගැන කවුරු කියලා දීලද මහා බෝධිසත්ත්වයෝ හොයාගන්නවානෙ. කාමාතේ පඨමාසේනා, උඹගේ පළවෙනි සේනාව තමයි, කාමය. දුතියාරති වුච්ඡති, දෙවෙනි එක තමයි, ආරතිය, කුසල් දහම් වලට කැමැති නෑ. එහෙනම් මේ ලෝකයේ යම්කිසි කෙනෙක් කාමයෙන් ඉන්නවා නම්, කාමාශාවෙන්, කාම දැවිල්ලෙන්, කාමපරිදාහයෙන්, කාමස්නේහයෙන් වාසය කරනවා නම් ඒ සියලු දෙනා පළවෙනි සේනාවට අහුවෙලා. ඊටපස්සෙ කාම සංකල්පනා සංසිඳුවා සංසිඳුවා යනකොට එනවා අරතිය. ඒවා තේරෙන්නෙ ඊළඟට. අරතිය කියන්නෙ කැමැති නෑ කුසල් දහම් වලට. එක දිගට සිල් රකින්න කැමැති නෑ, බණ අහන්න කැමැති නෑ, භාවනා කරන්න කැමැති නෑ, හිත කුසලයේ රැඳෙන් නෑ, සත්පුරුෂයෝගෙ ඇසුරෙ නිතර ඉන්න හිත රැඳෙන්නෑ. ඒක අරතිය. තථියා කුප්පිපාසාතේ, තුන්වෙනි කාරණාව තමයි, තුන්වෙනි සේනාව. එතකොට දැන් අර කුසල් දහම් වලට බණ දහම්, කුසල්දහම් වලට කැමැති නැති කෙනෙක් ලෝකෙ ඉන්නවා නම් අරතියෙන්, කුසලයට කැමැති නෑ, ඕන තරම් සින්දු කියන්න පුලුවන්, ෆිල්ම් බලන්න පුලුවන්, ඒවට බාධා ඇතිවෙන් නෑ, බණක් අහනකොට තමයි මේ නින්ද ගිහිල්ලා එපාවෙලා යන්නෙ. අනිත් ඒ කිසිදේක ප්‍රශ්න නෑ. එතකොට ඒ ඔක්කෝම ඒ සේනාවට අහුවෙලා, දෙවෙනි සේනාවට. තුන්වෙනි සේනාව තමයි කුප්පිපාසං, බඩගින්න පිපාසය. බඩගින්න පිපාසය ආවට පස්සෙ ආයෙ නිවන් මාර්ගය ඒවා කතා නෑ, ඊටපස්සෙ කන්න හොයාගන්නෙ කොහොමද, බොන්න හොයාගන්නෙ කොහොමද. දැන් ඔයාලා හිතන්න බඩගින්නෙන් පිපාසෙන් ඉන්න අපි කියමුකො ඉතියෝපියාවේ වගේ මිනිස්සු ගත්තොත් එහෙම මේ මිනිස්සුන්ට එකතු කරල බණ කියන්න පුලුවන්ද, භාවනාවල් කරන්න පුලුවන්ද? ඊළඟට වැඩිය ඕන නෑ දැන් අපේ රටේ දුර්භික්ෂයක් හැමතැනම ඇතිවෙලා ගියොත් ධර්ම දානය ද දෙන්න ඕන, කන බොන ඒව ද? අපි ධර්ම දානය දෙන්න ගියොත් අපිටම බනී, දැන් මේ පහුගිය කාලෙ මේ කලබල අස්සෙ බණ කියාගෙන

යද්දිනුත් මටත් බැනලා තිබ්බා, මේ කලබලේ අස්සේ - හොඳ වචනයක් කියලා තිබ්බා - මේ කලබල අස්සෙ බණ කියනවා කියලා. ඉතින් මිනිස්සුන්ට ඒ අර බඩගින්න පිපාසය ආවට පස්සෙ බණ නෙවෙයි ඕන වෙන්නෙ, ඊටපස්සෙ ඕන බඩට මොනවාහරි. ඔය එක සේනාවක්. බලන්න මේ බුද්ධ ශාසනයේ මිනිස්සුන්ට එක දිගට බණ ඇහිල්ලයි, ස්තූප පූජායි තිබිලා එහෙම සංඝයා ගොඩාක් දැකලා පින්කම් කෙරීගෙන එහෙම එනකොට බුද්ධ ශාසනේ බැබළෙනවා වගේ පේනවා. එතකොට ඒකටම හරියන රජ කෙනෙක් පහළ වෙනකොට දැන්නම් යහපතක් කියලා පේනවා. කොහොමද මරාලයක් කඩාපාත්වෙච්චි හැටි. ඒවා කොහෙද ගෙනියන්න දෙන්නෑ මේවා. මේක පුදුම සසරක්. ඒ තමයි නිවන් මාර්ගයේ යන කෙනාට බඩගින්න, පිපාසය එන්න ගන්නවා. ඒ බඩගින්න පිපාසයට අහුවුනා කියලා කියන්නෙ තුන්වෙනි සේනාව. චතුත්ථී තණ්හාපවුච්ඡති, හතරවෙනි කාරණාව තමයි, හතරවෙනි සේනාව තමයි තෘෂ්ණාව. ඇලෙනවා. දකින අහන හැමදේකටම ඇලෙනවා. තමන්ගේ ප්‍රතිපත්ති යම් යම් දේවල් වලට බලවත්ව ඇලෙනවා. ඒ හතරවෙනි සේනාව. තෘෂ්ණාව හිතේ ප්‍රකට වෙන්න ගන්නවා. ආශාව. ඊටපස්සෙ කියනවා, පංචමේ ථීනමිද්ධන්ති, දැන් මාරයා ළඟ තියාගෙන මේ ලෝක ධාතුවටම, කාශ්‍යප බුද්ධ ශාසනයෙන් පස්සේ මේ පොළොව ගව් හතක් උඩට වැඩෙනකල් කිසි කෙනෙකුට හොයාගන්න බැරිවුනු රහස මාරයා ඉස්සරහ තියාගෙනම උඹගේ පළවෙනි හොරා මේකයි, දෙවෙනි හොරා මේකයි, හතරවෙනි හොරා මේකයි කියලා ඒ හොරකම් ඔක්කොම ටික අවුස්සලා අවුස්සලා දානකොට කොහොමද තියෙන්න ඇතිද. සම්බුදු වෙලාවත් නෑ තාම. ඒකයි පින්වතුනි, පුදුම සහගත දෙයක් මේක. කිව්වා පස්වෙනි සේනාව තමයි ථීනමිද්ධන්ති, නිදිමත, අලසකම, නිදිකිරාවැටෙන එක. කම්මැලිකම, ථීනමිද්ධය. නින්ද. බලන්න දැන් ඔහොම බලාගෙන යනකොට අපිට බලන්නකො භාවනාවක් කරන්න යනකොට සේනාවල් කීයකින් ගහනවාද කියලා. ඊටපස්සෙ ඡත්තාය භිහිරූපවිච්ඡති, හයවෙනි සේනාව තමයි භයබිරාන්තකම එනවා. බය වෙනවා. බයවෙන අරමුණු ළංවෙනවා. එතකොට භයබිරාන්ත වුනාමත් නිවන් මාර්ගය දියුණු කරගෙන යන්න බෑ, එහෙම වෙච්චි සිද්ධි තියෙනවා, මට අර එක ආරණ්‍යයක හාමුදුරු නමක් මුණගැහුනා, ඒ හාමුදුරුවො ළඟ හිටපු කෙනෙක් කිව්වෙ මට. ඒ හාමුදුරුවො භාවනා කරගෙන කරගෙන ගිහිල්ලා ඒ භාවනාවෙන් එකපාරම කැළයක් පෙනිලා, ඒ කැළේ ඇතුළෙ ඇවිදගෙන ගිහිල්ලා. එතකොට ඇවිදගෙන ගියාට පස්සෙ කුටියක් තිබිලා. ඒ කුටියෙ කවුද

කියලා බලනකොට ස්ත්‍රියාවක් ඉඳලා. ඊටපස්සෙ ස්ත්‍රියාව මෙයාව පොළඹවගෙන, ඊටපස්සෙ ඒ ස්ත්‍රියාවට එකපාරටම තරහා ඇවිල්ලා ඇස් දෙක ගලවලා විසි කරලා. එකපාරම දැන් බයවෙලා, මේක වුනේ අර හීනයක් වගේ එකක්. කොච්චර බය වෙලාද කියනවානම් එදායින් පස්සෙ ඒ හාමුදුරුවො භාවනා කරලත් නෑ, මට මතක විදියට පස්සෙ සිවුරුත් හැරියා. කොහොමද අර ආව භාවනා අරමුණු, ඇයි තනි තනියෙන්නෙ මේ. තනි තනියෙන් ගුරුවරයෙක් නෑ, උපදෙස් දෙන්න කෙනෙක් නෑ, බණ පොතක් බලන්නෙ නෑ, ධර්මයක් අහන්නෙ නෑ, තනියෙන් හිතුමතේ ඇස්දෙක පියාගෙන ඉන්නවා. එතකොට බියජනක අරමුණු ගේනවා, වනාන්තර වලදී, හුදකලාවේදී බියජනක අරමුණු පවත්වනවා. ඊළඟට සමාධියේදී බියජනක අරමුණු ගෙනදෙනවා. එතකොට ඒවා තමයි කිව්වා උඹගේ හයවෙනි සේනාව. සත්තමී විචිකිච්ඡාති, හත්වෙනුව සැකය ඇතිවෙනවා. දහම් ගැන, සමහරවිට කරන භාවනාව ගැනම සැකය එනවා. නැත්නම් ඉගෙන ගත්තු ධර්මය ගැන එනවා. නැත්නම් තමන්ට මඟ පෙන්නවන අය ගැන සැකය එනවා. සැකය හිතේ වැඩ කරනවා. ඒක හත්වෙනි සේනාව. මක්ඛෝතංබෝති අට්ඨමී, ගුණමකුකමයි, දැඩි බවයි. ගුණමකු බවයි, දැඩි බවයි අටවෙනි සේනාව. ගුණමකු කියන්නෙ එයාගෙ කවුරුහරි තවත් කෙනෙක්ගේ ගුණයක් කියනකොට ඒ ගුණයට පහදිනවාට වැඩිය එකපාරම එයාගෙ වැරැද්දක් මතක් වෙනවා. තව කවුරුහරි එක්කෙනෙක් ගුණයක් කියනකොට ඔහොම වුනාට එයාට මෙහෙමත් වෙලා තියෙනවා. ඒ ගුණය මකනවා. ගුණමකුයි. හිතෙන් පිළිගන්නෑ. තවත් කෙනෙක්ගේ යහපතක් අනුමෝදන් වෙන්නෑ. ඊළඟට දැඩියි. තමන්ගේ තීරණයේම ඉන්නවා. මෙයා මෝල්ගහ වගේ චරිතයක් වෙනවා. එතකොට මෝල් ගහ වගේ දැඩි චරිත, නම්‍යශීලී නැති චරිත ඒ සේනාවට අහුවෙලා. ඊළඟට තියෙනවා ලාභෝසිලෝකෝ සක්කාරො මිච්ඡාලද්දෝච යෝයසෝ, නව වෙනි සේනාව තමයි ලාභ සත්කාර කීර්ති ප්‍රශංසා යසස. ඊටපස්සෙ තියෙනවා යෝච අත්තානං සාමුක්කංසෙ පරේචාවනජානති, තමාව උසස් කරනවා අනිත් අය පහත් කරනවා. ඔන්න දහවෙනි සේනාව. අපි භාවනා කරන අය, මෙයාලා භාවනා කරන්නෑ. අපි මේ බණ දහම් හොඳට දන්න අය, මෙයාලට දහම් දැනුමක් නෑ, අපිට සමාධිය හොඳට වැටහෙනවා මෙයාලට නෑ, මෙයාලා මේ ශ්‍රද්ධාව ගැන කිය කියා ඉන්නවා කෝ ප්‍රඥාව ගැන තේරුමක්වත් නැනෙ. අපිට වැටහෙන අනිත්‍යය මෙයාලට දැනෙන්නෙවත් නෑ. තමන් උස් කරනවා, අනිත් අය පහත් කරනවා. ඊටපස්සෙ මේක තමයි දහවෙනි සේනාව. කිව්වා ඒ සා

නමෝචි තේ සේනා නමෝචි, නමෝචි කියන්නෙ මාරයාට, උඹගේ සේනාව ඕන්න කිව්වා. ඕකට කිව්වා දසබිම්බරක් සේනාව කියන්නෙ. ඒ කියන්නෙ ඒ සේනාව, දසබිම්බරක් සේනාව කියන්නෙ පින්වතුනි එයාගෙ ඇත්තටම සේනාවක් සිටිනවා, අසුර නිකායේ එයා. එතකොට එයාලාට කරන්න පුලුවන්නෙ ඔය දහය. එයාලාගේ සටන කියන්නෙ මේ බුදුරජාණන් වහන්සේ අභිමුවට ඇවිල්ලා තමයි නවවිධ වර්ෂාවක් වස්සවලා සටන් කළේ. ඒක වෙනම එකක්. අනිත් අයත් එක්ක සටන් කරන්නෙ අවි ආයුධ වලින් ඇණලා කොටලා නොවෙයි. ඒ සේනාව ඇවිල්ලා කරන්නෙ, එක සේනාවක් ඉන්නවා, කාමය අවුස්සනවා. ඊළඟ සේනාව ඉන්නවා අරතිය අවුස්සනවා. ඊළඟ සේනාව ඉන්නවා බඩගින්න පිපාසය අවුස්සනවා. ඊළඟ සේනාව ඉන්නවා තෘෂ්ණාව අවුස්සනවා. ඊළඟ සේනාව ඉන්නවා නින්ද අවුස්සනවා. එතකොට එයාලා කරන්නෙ ඒ අවුස්සන එක. ඒ අවුස්සන පිරිස සේනාව විදියට ඉන්නවා. නමුත් මේ ඔක්කෝම කෙලෙස් ටික තමන්ගේ ඇතුලේම තියෙන කෙලෙස් තමයි අවුස්සන්නෙ. නින්ද කියන එක තමා ඇත්තටම ප්‍රහාණය කලා නම් ඒ සේනාවට බෑ එයාගෙන් වැඩ ගන්න. කාමය කියන එක තමා ඇත්තටම ප්‍රහාණය කලා නම් අර පළවෙනි සේනාවට මෙයත් එක්ක සටන් කරන්න බෑ. පැහැදිලිද. එතකොට මේ කෙලෙස් දහය අපේ තුළින් ප්‍රහාණය වුනොත් දස මාර සේනාවට එයත් එක්ක සටන් කරන්න බෑ. ඊටපස්සෙ කියනවා මේ විදියට සේනා දහයක් තියාගෙන උඹ මේ ලෝකයත් එක්ක සෙල්ලම් කරනවා නේද. උඹ මේ ලෝකයත් එක්ක රංගනයේ යෙදෙනවා නේද. නතං අසුරෝ ජිනාතිත්වා නාච්ච ලභතේ සුඛං, ඒ වුනාට සූර වීර නැති කෙනෙකුට මේක දිනාගන්න බෑ. ඒත් මේ සේනා දහය දිනාගත්ත කෙනාට අමා මහ සැපය ලබන්න පුලුවන්. මුදු තණපත් හිසේ තබා කියමි සපථ කරමි මම ඒස මුඤ්ජං පරිහාය ධීරත්ති මම ජීවිතං, මම මේ තණකොළ ටික අරන් හිසේ තියාගෙන සපථ කරනවා උඹට. ඇයි මෙහෙම කියන්නෙ. ඒ කාලයේ යුද්ධෙකට ගියාට පස්සෙ යුද්ධ කරගෙන යනකොට තණකොළ මිටියක් අරගෙන කොඩියේ මුදුනේ බැන්දොත් ඒකෙ අර්ථය තමයි ඉවරයක් වෙනකල් යුද්ධෙ නතර කරන්නෑ. යුද්ධ කරන කෙනා තණකොළ ටිකක් හිසේ තියාගෙන තණකොළ මුඤ්ජ තණ අරන් හිසේ තියාගත්තොත් ඒකෙ අර්ථය තමයි ඉවරයක් වෙනකල් නතර කරන්නෑ කියන එක තමයි ඒකෙන් සංකේතය. ඒකයි මහා බෝධිසත්ත්වයෝ කියන්නෙ ඒස මුඤ්ජං පරිහා ධීරත්තුමම ජීවිතං, මම මේ තණකොළ ටිකක් අරන් හිසේ තියාගෙන සපථ කරනවා, සංඝාමේමි මතං සෙයයා, මං උඹට සපථ කරනවා, මේ යුද්ධෙන්

මං මැරුණට කමක් නෑ, පැරදිලා ජීවත් වෙනවාට වැඩිය යං වේ ජීවේ පරාජිතෝ, පැරදිලා ජීවත් වෙනවාට වැඩිය යුදබිමේ මං මැරෙන්න කැමතියි යුද්ධ කරලා. කොහොමද මේකනෙ සටන්. ඊටපස්සෙ ඒකෙ විස්තරය ලොකු ස්වාමීන් වහන්සේ පරිවර්තනය කරලා තියෙනවා මුදුනණපත් හිසේ තබා කියමි සපථ කරමි මම - කෙලෙස් සහිත සිතකින් යුතු දිවියට නින්දා වේවා. කෙලෙස් යුද්ධයෙන් පැරදී ජීවත් වෙනවාට වඩා - මැරීයාම උතුම්ය මට මේ කෙලෙසුන් හා සටනින්. ඊටපස්සේ කියනවා ඇතැම් ශ්‍රමණ බ්‍රාහ්මණවරු මාර සෙනඟට හසුවුනාට පස්සේ එයාලට ඇත්ත හොයාගන්න බෑ, මේ අගල්හා යෙත්ථන දිස්සන්ති ඒතේ සමණබ්‍රාහ්මණා, සමහර ශ්‍රමණබ්‍රාහ්මණයෝ ඉන්නවා මේ සේනාවට අහුවෙලා හිස උමතු වෙලා, ඔලුව සම්පූර්ණයෙන්ම වැහිලා එයාගෙ. තඤ්ච මග්ගන්න ජානාති, උන්ට මාර්ගය පේන්නෑ. මේ කාරණා දහයට අහුවුනාට පස්සෙ මාර්ගය පේන්නෑ පින්වතුනි. යේන ගච්ඡන්ති සුබ්බතා, යා යුතු මාර්ගය ඒ අයට පේන්නෑ, නිවන් මාර්ගය පේන් නෑ. සමන්තා ධජනින් දිස්වා යුත්වං මාරස්වාහිනිං යුද්ධාය පච්ඡු ගච්ඡාමි මාමංඨානා අචාවයී, කියනවා කොඩි, මේ තියෙන්නෙ මාර සේනාව, කොඩි හාත්පස දල්වලා මාර සේනාව යුද්ධයට ආපු හැටි කියනවා. ඒ විස්තරේ හිමීට ඉගෙන ගනිමු. එතකොට දැන් මේ විස්තරය කීවට පස්සෙ මහා බෝධිසත්ත්වයන් වහන්සේ දේශනා කරනවානෙ මං මේ සපථ කරලා කියන්නේ මං මේ යුද්ධෙන් මැරෙන එක සැපයි මට පරාජයට පත්වෙලා ජීවත් වෙනවාට වැඩිය. ඒ නිසා සේනා දහයට අහුවුනොත් නම් නිවන් මාර්ගය තේරෙන් නෑ. හැබැයි ඔය සේනා දහය පරාජයට පත් කළොත් එයාට මාර්ගය ලැබෙනා බව මා දන්නවා. කියලා කියනකොටම අතුරුදහන් වෙනවා. ඊටපස්සෙ තමයි ඒකත් එක්කම අප්‍රාණ ධ්‍යානය වඩන්නෙ. හුස්ම ගන්නැතිව තද කරගෙනම ඉන්නවා. පැය ගණන් ඉන්නවා, වරු ගණන් ඉන්නවා. ඒ වේදනාවේ, මාරාන්තික වේදනාවේ හිත සමාධිමත් වෙනවා. අද කාලෙ කෙනෙකුට මේක කලොත් එයා මැරෙනවා. ඇත්තු කෝටි දහස් ගාණක සවිශක්තිය තියෙනවානෙ මහා බෝධිසත්ත්වයන්ට ශරීර ශක්තිය. ඒ නිසානෙ මේ ජීවත් වෙන්නෙ. පුදුමෙම ඒකනෙ. එක මුං ඇටයක් දවස් පහළොවට වළඳලානෙ ජීවත් වෙන්නෙ. සම්පූර්ණයෙන් ශරීරෙ ඇටසැකිල්ල පෑදුනානෙ. දෙතිස් මහා පුරුෂ ලක්ෂණ අතුරුදහන් වුනානෙ. ඇඟේ ලොම් කුණුවෙවී වැටුනානෙ. හමේ සම්පූර්ණ දූවිලි බැඳිලා ගිහිල්ලා තට්ටු හැදුනනෙ. කවදාවත් දූවිලි පිහදාන්න ඕන කියලා හිතුන් නෑනෙ. සොහොනෙ ගිහිල්ලා එහේ වැතිරිලා හිටියානෙ. ගවයො ජරා කලාට

පස්සෙ අත්දෙකයි පා දෙකයි බිමට තියලා ඒ ගව පැටවුන්ගේ ජරාව කාලා තියෙනවානෙ. මහාවිකලභෝජනය කියලා තමන්ගෙම මලමුත්‍රා තමන්ම කාල, තමන්ගෙම මලමුත්‍රා තමන්ගේ ශරීරයේ ඉවර වෙලා තියෙනවානෙ. ඊටපස්සෙ මලමුත්‍රා කරන්න ඕන කියලා නැගිටිනකොට එතනම වැටිලා තියෙනවානෙ. දෙවිවරු ඇවිල්ලා සුද්ධෝදන රජතුමාට කිව්වා, රජතුමනි, ඔබගේ පුත්‍රයා - ඒ කාලෙ මිනිස්සුත් එක්ක දෙවියො කතා කරනවානෙ - කපිලවස්තුවේ මාළිගාවේ ජනේලෙන් දේවතාවුන් වහන්සේ ආකාසෙ ඉඳලා කිව්වා මහරජ සුද්ධෝදන, නුඹගේ පුත්‍රයා මැරුණා කියාල. සුද්ධෝදන රජතුමා කිව්වා, එම්බා දේවතාව නුඹට වැරදිලා, මාගේ පුත්‍රයා ලොව්තුරා සම්මා සම්බුදු වෙලා මිසක් ඔහුගේ මරණය සිද්ධ වෙන්නෑ කිව්වා. ඒකයි බුදුරජාණන් වහන්සේ කපිලවස්තුවට වැඩි වෙලාවේම සුද්ධෝදන රජතුමා කියනවා, ස්වාමීනී මට මෙහෙම දෙවි කෙනෙක් ඇවිදිල්ලා කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, රජතුමනි, ඔබ කොහොම ඒක පිළිගන්නද, කලින් ජීවිතෙත් ධර්මපාල කුමාරයා වෙලා ඉඳලා ඔබ ඒ ජීවිතෙත් පිළිගත්තෙ නෑ කිව්වා, ගුරුවරයා තමන්ගේ පුතා මැරුණා කියලා එළුවන්ගේ ඇටකෝටු ටිකක් ඔතලා එවනවා, ඔබගේ පුතා මැරුණා කියලා. තාත්තා පිළිගන්නෙ නෑ, මාගේ පුතා, අපේ පරම්පරාවම පන්සිල් රකින අය අඩු වයසින් මැරෙන්නෑ කියලා. ඉතින් එහෙම, ඒ සසරෙත් එහෙම පිළිගත්තෙ නැති එක ලොව්තුරා සම්බුදු වන ජීවිතේ ඔබ කොහොමටවත් ඕක පිළිගන්නෑ කිව්වා. ඉතින් දෙවිවරු බොරුවට ඇවිල්ලා කිව්වා නෙවෙයි, ඒ වැටිච්ච තැන එහේම්මම වැටුනා, සිහියක් නෑ, හුස්ම වැටෙනවා පේන්නෙ නෑ. ඒ වැටුන ගමන්ම අප්‍රාණික ධ්‍යානයට සමවදිනවා ඇති, දෙවිවරුන්ට පේන්නෑ. දෙවිවරු හිතුවෙ රහතන් වහන්සේලා මෙහෙමයි ඉන්නෙ කියලා. ඊටපස්සෙ තමයි කල්පනා කලේ යම්කිසි කෙනෙක් විඳිය යුතු නම් යම්තාක් දුකක් මේ මනුස්ස ලෝකයේ, ඒ කෙනා විඳින්න ඕන දුක මං විඳලා ඉවරයි. ඒත් මට මේ අමා මහ නිවන අවබෝධ වෙන්නෑනෙ. එතකොට මතක් වුනා පුංචි කාලෙ, පුංචි කාලෙ දඹ ගස් සෙවණේ, වප් මගුල් දවසේ සමවැදුනු ආනාපානාසති භාවනාව. සිහි කරන්න හැදුවා. දැන් මෙතෙක් කාලයක් හුරු වෙලා තියෙන්නෙ හුස්ම හෙළන්න පහළට දාන්නද, හුස්ම හිර කරන්නද පුරුදු වෙලා තියෙන්නෙ? එතකොට මෙච්චර කාලයක් පුරුදු වෙලා තියනේනෙ හුස්ම නවත්තගෙන ඉන්න. හුස්ම හෙළන්න, ආශ්වාස ප්‍රශ්වාසයට නෙවෙයි හුරු වෙලා තියෙන්නෙ. දැන් මේක කරනකොට අමාරුයි. කය ඒකට වැඩ කරන්නෑ. ඊටපස්සෙ මොකද කලේ, පාත්‍රය අරගෙන පිණ්ඩපාතෙ වැඩියා. පාත්තරය

අරගෙන පිණ්ඩපාතෙ ගිහිල්ලා ලැබෙන දෙයක් වැළඳුවා අමාරුවෙන්. ආන්න එහෙම වළඳනකොට, බෝධිරාජ කුමාරයාට කියනවා, බෝධිරාජ කුමාරය, පස්වග භික්ෂූන් වහන්සේලා මේ ශ්‍රමණ භවත් ගෞතමයන් ආපහු නිවනට තියෙන එකම මාර්ගය අත්හැරලා ආපහු කාමයට වැටුනා කියලා, දැන් ඉතින් වැඩක් නෑ කියලා අර උපස්ථානයට හිටපු පස්වග භික්ෂූන් වහන්සේලා - උපස්ථානය කියන්නෙ අමුතු උපස්ථානයක් නෙවෙයි, අවට ඉන්න එකනෙ - මේ පස්වග භික්ෂූන් වහන්සේලා ගියා යන්න පාගමනින්. තනිවුනා. ඊටපස්සෙ ආපහු පොඩ්ඩ පොඩ්ඩ ආහාර අරගෙන, කය ඕලාරික ආහාර අරගෙන ඒ කය හිමීට හිමීට යථා තත්ත්වයට පත්වෙන්න පත්වෙන්න හොඳට ආශ්වාස ප්‍රශ්වාසයේ හිත පිහිටියා. හරී සැහැල්ලුයි. ආනාපානාසතියෙ හොඳට හිත පිහිටනවා. පින්වතුනි මේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේලා සෑම බුදුරජාණන් වහන්සේ නමක්ම සම්මා සම්බුද්ධත්වයට පත්වෙන්නේ ආනාපානාසති භාවනාවෙන්. එතකොට ආනාපානාසති භාවනාව කියන්නෙ සුලුදෙයක් නෙවෙයි. ඒක උතුම්, මහා උත්තමයො පරිහරණය කරන භාවනාවක්, ආනාපානාසතිය. මේ ලෝකයේ වැඩිම ප්‍රමාණයක් පරිහරණය කරන භාවනාව තමයි මෛත්‍රී භාවනාව. ආනාපානාසති භාවනාව කියන්නෙ උත්තම අය භාවනා, ලෝකයේ උත්තම භාවයට පත්වෙච්චි අය භාවිතා කරපු, ලොව්තුරා සම්මා සම්බුදුවරු භාවිතා කරපු භාවනාවක්. ඊටපස්සෙ ඒ භාවනාව හිමීට කරගෙන කරගෙන ඔන්න එදා ආපහු වෙසක් පුන් පොහෝය දවසක් ආවා. එතකොට ඒ වෙසක් පුන්පෝය දවසේ උන්වහන්සේ ඒ උරුවේලාවේ සේනානි ගම මැදින් වඩිද්දින් විශාල නුගරුක්ෂයක් මුල උදේ කාලයේ වැඩ හිටියා. උන්වහන්සේගේ ශරීරය ගොඩාක් එදා ප්‍රභාෂ්වරයි. උන්වහන්සේගේ ශරීරයේ චීවරය එදා ගොඩාක් රත්තරන් පාටයි, ගිනිඅඟුරු පාටයි. උන්වහන්සේ සඳමඩල මහපොළොවට වැඩලා වගේ. එදා තමයි සුජාතාගේ කිරිපිඩු පූජාව. ඈ භාරයක් වෙලා. පුතෙක් ලැබෙන්න. ඈ විවාහ වෙලා හිටියේ බාරාණසියට. සේනානි කියලා කියන්නෙ ඒ සුජාතාවගේ තාත්තා. ඉතින් බාරාණාසියට විවාහ වෙලා පුතෙක් ලැබිච්ච නිසා ඈ භාරය ඔප්පු කරන්න ඇවිල්ලා බොහෝ කාලයකට පස්සෙ සේනානි ගමට. ඒ සුජාතාවගේ පුතා තමයි යසකුලපුත්‍රයා. එතකොට සුජාතාව තමයි යස කියන ගෘහපතියාට විවාහ කරලා දීලා තිබ්බෙ. ඉතින් පුණ්ණා කියන දාසියනේ දුවගෙන ගියෙ. ගිහිල්ලා ඒ දාසිය දුවගෙන ආවා දේවතාවුන් වහන්සේ බිමට වැඩලා කියලා. ඊටපස්සෙ අපේ සුජාතාව, සුජාතාව කිරිපිඩු බොහෝම ප්‍රණීත

විදියට, ඒවා වර්ණනාත්මක විදියට තියෙනවානෙ, ගවයො දාහකගේ කිරි පන්සීයකට පොවලා ඒ පන්සීයගේ කිරි තව දෙසිය පනහකට පොවලා, ඊළඟට ඒ දෙසිය පනහකගේ කිරි සීයකට පොවලා, ඒ සීයකගේ කිරි පනහකට පොවලා, ඒවගේ ඒවගේ අවසානයේ ගිතෙල් වාගේ ප්‍රණීත කිරි උණු පැනින් ඒවාගේම බෙහෙත් පැණින් නාවපු ඒ වගේම වැල්මී ආදී බෙහෙත් වර්ග කවපු, ප්‍රණීත ප්‍රණීත දෙයින් සතක් පොවපු ඒ එළදෙනගේ කිරි දොවන්න භාජනය බිම තියනකොට අතින් අල්ලන්න කලින් කිරි ටික වෑහිලා තියෙනවා. ඉතින් එදා පුදුමයි කියනවා, එදා කිරි මුට්ටිය ලිපේ තියලා කිරි ආහාර හදන්න දිය නුමුසු, සුවඳ හාල කිරි මුට්ටියට දාන්න යනකොට කිරි මුට්ටිය දකුණු පැත්තට කිරි වතුර ටික කැරකෙනවා කියනවා. ඊටපස්සෙ කිරිමුට්ටියේ කිරි ආහාර ටික ඉදෙනකොට දකුණු පැත්තෙන් පෙණ දදා දකුණු පැත්තට කිරි කරකැවෙනවා, මුට්ටියෙන් පොඩ්ඩක් උඩටත් ඇවිල්ලා කරකැවෙනවා, බිමට වැටෙන්නෑ, මුට්ටියෙන් බිමට කිරි උතුරන් නෑ. මුළු පැත්තම සුවඳ දුන්නා කියනවා. සුජාතා, පුදුමයට පත්වෙලා, රෝමෝද්ගමනය වෙලා තියෙනවා, ඈ උයන කිරිආහාර දැකලා. ඊටපස්සෙ සුජාතා රන්තැටියට, දැන් පුණ්ණා ඇවිල්ලා කිව්වානෙ දේවතාවුන් වහන්සේ බිමට බැහැලා කියලා. ඉතින් ගිහිල්ලා රත්තරන් තැටියේ මහා බෝධිසත්ත්වයන් වහන්සේට පුදනවා, පුදුමසහගතයි දරාගන්න බෑ ඒ රූපශ්‍රීය. බුදුරජාණන් වහන්සේගේ ශරීරය අතිශයින්ම බබළන දවස් දෙකක් තියෙනවා. ඒ එක දවසක් තමයි උන්වහන්සේගේ චීවරය අතිශයින්ම බබළනවා සම්මා සම්බුදු වෙන දවසේ. අනිත් දවස තමයි පිරිනිවන් පාන දවසේ. ඉතින් කිරි ආහාර පූජා කරලා, කිරිපිඩු පූජා කරලා ප්‍රාර්ථනා කලා, මගේ පැතුම ඉටුවුනා වගේ ඔබවහන්සේගේ පැතුමත් ඉටුවේවා. ඊටපස්සෙ මහා බෝධිසත්ත්වයන් වහන්සේ රන්තැටිය අරන්, එතනම එහාපැත්තෙ නේරංජනා නදිය. බොහෝ විට පින්වතුනි, කරුණු කාරණා සහ ඒ වෙච්චි සිදුවීම් ඔක්කෝම හොයලා ඉන්දියාවේ ඒ තැන බලනකොට බොහෝ විට අද සුජාතාඝර් කියලා මහා ස්තූපයක් තියෙනවා නේරංජනා නදියේ මේ පැත්තෙ. ඒ ස්තූපය තියෙන තැන තමයි බොහෝ කරුණු යෙදෙන්නෙ මේ ධර්මයත් එක්ක බලනකොට කිරිපිඬු වළඳපු තැන කියලා. නමුත් කිරිපිඩු වළඳපු තැන කියලා, ඒ සුජාතාඝර් කියලා තියෙන ස්තූපයට එහාපැත්තෙන්, කුඹුරු යායට එහා පැත්තෙන් නුග ගහක් යට වෙනම පොඩි තැනක් තියෙනවා. මිනිස්සු අදටත් බලන්න යනවා. ඉතින් නමුත් කරුණු යෙදෙන්නෙ අර ස්තූඑය තියෙන තැන තමයි වැළඳුවා කියලා. ඊටපස්සෙ එතනම එහාපැත්තෙ සොත්ථිය බමුණා කුසතණ අටමිටක් පූජා

කලා. ඒකත් අරගෙන උන්වහන්සේ ගඟෙන් පැන් පහසු වෙලා සෑම බුදුරජාණන් වහන්සේ නමක්ම සම්මා සම්බුදු වෙන දවසේ සීතල නිල්කැට දියදහරින් පැන් පහසු වෙනවා. පිරිනිවන් පාන දවසේත් සීතල නිල්කැට ජලයෙන් පැන් පහසු වෙනවා. ඒක බුදුවරුන්ගේ ධර්මතා. පැන් පහසු වෙලා, අර ගුලි හතලිස්නවයක් කරලා වැළඳුවා ඒ තැටියේ. මම දවසක් මේක බලන්න, මමත් කිරි ආහාර හදලා අපි ඉතින් අතේ ප්‍රමාණයට ගුලි කලා හතළිස් නවයක්. මේ සාමාන්‍යයෙන් අතේ ප්‍රමාණයට හතළිස් නවයක් ගුලි කලාට පස්සෙ ලොකු තැටියක් හැදෙන්නෑ පින්වත්නි, සාමාන්‍යයෙන් එක්කෙනෙකුට හරියන විදියට ඒ තැටියක් හැදෙනවා. ඉතින් ඒ විදියට කිරි ආහාර හදලා අපිත් කිරිපිඩු හතලිස් නවයක ගුලි සහිත තැටියක් අපි වජිරාසනයට පූජා කරලා තියෙනවා. ඊටපස්සෙ පින්වතුනි ඒ විදියට ඒ ගුලි හතළිස් නවයක් කරලා වැළඳුවා. එතකොට ඒ ගුලි හතළිස් නවයක් කරලා වැළඳුව නිසා තමයි සත් සතිය ගත කරන්නෙ ආහාරයක් නොලබා. එක දවසට එක කිරි ආහාර ගුලියක් දිරවනවා. ඒක බුදුවරුන්ගේ ස්වභාවක්. අපි දන්නෑ පින්වතුනි මේවා අපිට තේරෙන්නෑ. ඊටපස්සෙ සීතල ජලය තියෙන නේරංජනා නදියේ අර රන්තැටිය තියලා අද මා ලොව්තුරා සම්බුදු බවට පත්වෙනවා නම් මේ රන්තැටිය උඩුගං බලායත්වා කියලා තැටිය තිබ්බා. අර සීතල නේරංජනා නදිය පහළට ගලාගෙන යනවා නිල්කැට ජලය. එයින් අර රන්තැටිය උඩුගම් බලා ගලාගෙන ගියා. මහාකාල නාගයාගේ විමානයට තමයි රන්තැටිය වැටුනෙ. මහාකාල නාගයාට කොච්චර ආයුෂද කියනවා නම් ඔහු කියනවා, ඊයෙත් තැටියක් වැටුනා. පෙරේදත් තැටියක් වැටුනා. ඊට කලිනුත් තැටියක් වැටුනා. අදත් තැටියක් වැටුනා. එතකොට ආයුෂ හිතාගන්න. ඔහුට බුද්ධාංකුරයක් එක දවසක් වගේ දැනෙන්නෙ. එච්චර ආයුෂ. ඊටපස්සෙ මහා බෝධිසත්ත්වයන් වහන්සේ ගඟෙන් එතෙර වෙලා, උන්වහන්සේ පිණිසම වළාකුළක් වගේ වැඩිලා තියෙන මහා වනයේ සීතල නේරංජනා නදිය අයිනේ වජිරාසනයේ අද වෙනකොට නදිය ගොඩාක් ගොඩ වෙලා. නමුත් ඇත්තටම වජිරාසනයේ පැත්තෙ ඉඳලා නැගෙනහිරින් තමයි සීතල නේරංජනා නදිය ගලාගෙන යන්නෙ. ඒවා ඔක්කොම අදටත් ඒවිදියට තියෙනවා. අද තියෙන්නෙ වජිරාසනයත්, නදියත් අතර ගොඩනැගිලි හදලා. එතකොට අපිට හිතෙන්නෙ නදිය වෙන තැනක තියෙන්නෙ, වජිරාසනය වෙන තැනක තියෙන්නෙ කියලා. එදා මහා වනයේ සීතල ජලය ගහගෙන ගිය නදිය ඔය. ඊටපස්සෙ ඒ වජරාසනයේ උන්වහන්සේ හොඳට බලනකොට අසුන් ගන්න පුලුවන් විදියට තියෙන්නෙ නැගෙනහිර

පැත්ත. ඒ නිසා තමයි අනිත් හැම දිසාවකම ගිහිල්ලා උන්වහන්සේට එම භූමිය උන්වහන්සේගේ ආසනයට සුදුසු බව වැටහුන්නෑ, නැගෙනහිර දිසාවේ කුසතණ අටමිට තැන්පත් කරලා ඒ මත උන්වහන්සේ අසුන් ගත්තා. අසුන් ගත්තේ මාගේ ඇඟ ලේ මස් නහර වියළී ගියත්, ඇට ඇටමිදුළු ඉතුරුවුනත්, මේ මුලු ශරීරයේම තියෙන ලේ ඔක්කොම වියළිලා ගිහිල්ලා නහර ඇට ඉතුරුවුනත් මම නම් ලොව්තුරා සම්බුද්ධත්වයට පත්වෙලා මිසක්කා නැගිටින්නෑ කියලා සෙලවෙන්නැති වජ්‍රමය අධිෂ්ටානයෙන් අසුන් ගත්ත නිසා තමයි පින්වතුනි ඒ ආසනයට වජිරාසනය කියලා කියන්නෙ. සෙලවෙන්නැති වජ්‍රමය අධිෂ්ටානයෙන් අසුන් ගත්තු නිසා, වජිරාසනය කියලා කියනවා. උන්වහන්සේ ටික ටික වජිරාසනයේ හිත සමාධිමත් කලා. ඒ සමාධිමත් කරනකොට තමයි මේ ලෝකෙ සම්මා සම්බුද්ධත්වයටත්, කෙනෙක් සසර දුකින් නිදහස් වෙනවාටත් අකමැති වූ මේ ලෝකයේ මහා බලවේගය වන, සසරේ නියමුවා වන, සත්ත්වයා සසරට ඇදලා දාන, ප්‍රමාදී වූ ජනයාගේ ඥාතියා වුන, ඒ මාරයා දසබිම්බරක් සේනාව සමඟ එතනට ආවා. එතනට ඇවිල්ලා ඒයි සිද්ධාර්ථ, උඹ නැගිටපං කියලා කෑගහගෙන ආවෙ, නවවිධ වර්ෂා ආකාසයෙන් වැටෙනවා. ඒ මාරයාගේ යම්තාක් සේනාව, ඒ කොච්චර වේගයෙන් එතෙන්ට කෑගහෙගන ආවාද කියනවා නම් අද අපේ බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුදුවෙනවා කියන අදහසින් උන්වහන්සේ පිරිවරාගත්ත සියලු දෙවියන් බඹුන් එතනින් අතුරුදහන් වෙලා තියෙනවා. ඊටපස්සෙ අවසානෙට කරලා තියෙන්නෙ, නිරයවල් වල තියෙන සියලුම ලෝදිය එකතු කරලා ආකාසෙන් වත්කරලා තියෙනවා. බෝධියටත් මහා බෝධිසත්ත්වයන් වහන්සේටත්. එතකොට අවසානයේ ඒ වත්කරපු ලෝදිය බෝධීන් වහන්සේගේ පත්‍රයක්වත් පුළුස්සා දමන්න සමත් වෙලා නෑ, කොහොමද ආනුභාවය. එතකොට සියලුම දෙවියන් බඹුන් අතුරුදහන් වෙලා සක්වලේ කෙළවරටම ගිහිල්ලා. ඊටපස්සෙ මොකද වුනේ. ඒ අතරින් බැලුවා දැන්නම් සිද්ධාර්ථ ඉවරයි කියලා. නෑ බෝ මුල රන් කඳක් සේ වැඩ සිටිනවා. අවසානෙ කිව්වා, සිද්ධාර්ථ ඔතනින් නැගිටියං. ඒ විස්තරය තමයි පදාන සූත්‍රයේ තියෙන්නෙ. මෙතන තියෙනවා අවසාන ගාථා, කොඩි දාහක් පස නංවා සේනා ඇති මරු පැමිණෙයි පෙරමග බලමින් මෙහි මම මරු හා යුදයට පිවිසෙමි මට හිමි වී තිබෙන තැනින් කිසි විට මා නොසැලේවා. මට හිමි වෙලා තියෙන තැනින් මං සෙලවෙන්න එපා, උඹ ඕනතරම් යුද්ධ කරපං. ඔය විදියට තමයි මහා බෝධිසත්ත්වයෝ කල්පනා කරලා තියෙන්නෙ. එතකොට දස බිම්බරක් සේනාව සමඟ ඒ විදියට පැමිණුන, ඒ සේනාව වටෙන්

වටකරලා, නවවිධ වර්ෂාවකින්, ආයුධ වර්ෂා, ගල් වර්ෂා, ගිනි වර්ෂා ආදී නොයෙක් වර්ෂාවෙන් මහා බෝධිසත්ත්වයන්ට වජ්‍රාසනය මත වැඩ සිටින අනේක විධ ගැහැට කරද්දි අපගේ සිද්ධාර්ථ මහා බෝධිසත්ත්වයන් වහන්සේ වජිරාසනය මත වැඩ සිටියා. උන්වහන්සේගේ හිතේ තිබ්බ අදහස තමයි මට හිමි වී තිබෙන තැනින් කිසි විට මා නොසැලේවා. මං මෙතන ඉන්නවා, මං මෙතනින් සැලෙන්නෑ, උඹට ඕන දෙයක් කරපං. ඉතින් අවසානයේ මාරයාගේ ආයුධයෙන් පහර දුන්නා. ඒ ආයුධය භාග්‍යවතුන් වහන්සේගේ පාපිස්සක් වගේ සිරිපා ළඟ වැටුනා. මල් වරුසාවක් වගේ වැටුනා. අවසානයේ සිද්ධාර්ථ උඹ ඔතනින් නැගිටලා පලයං කියලා කිව්වා. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ වදාළා මට හිමි තැනින් මා සැලෙන් නෑ. උඹට ඔය තැන හිමියි කියලා උඹට තියෙන සාක්ෂි මොනවාද. මට මේ ලෝකයම මට අයිතියි කියලා සාක්ෂි තියෙනවා කියලා දස බිම්බරක් මාර සේනාව එකහෙලා කෝලහාල කලා. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ, අපේ මහා බෝධිසත්ත්වයන් වහන්සේ චීවර ධාතුවෙන් ශ්‍රී හස්තය මෑත් කරලා අට වතාවක් පොළොව කම්පා කොට මා දන් දුන් බව, අනේක කල්ප ප්‍රමාණයක් මා මේ ස්ථානයට නොසැලී මේ භූමියට මා පැමිණෙන්න මා පිරූ පාරමිතා ඒ ධරනීමාතා නුඹ දන්නේ නැද්ද කියලා දකුණු ශ්‍රී හස්තය මිහිමඩලේ තැබුවා. තබනකොටම ඒ භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටපු භූමියේ රියන් තිහක් පමණ ඉඩ ඉතුරු වෙලා එතනින් එහාට මහපොළොව මුහුදු රැල්ලක් සේ කම්පා වුනා. ගිරිමේඛලා ඇතු පිට සිටි කුමාරයා බිම එහිම පතිතවුනා. බිම්බරක් දස සේනාව හිස් ලූ ලූ අත පලා ගියා. මාර සෙනඟ පලාගියා. සියලු දෙනා අතුරුදහන් වෙලා ගියා. අපගේ බුදුරජාණන් වහන්සේ, අපගේ සිද්ධාර්ථ මහා බෝධිසත්ත්වයන් වහන්සේ ජයශ්‍රී මහා බෝ සෙවණේ වජිරාසනය මත සිත දැහැන් ගත කලා. ආනාපානසතියේ දැහැන් ගත කලා. මේ විදියට තමයි මාර පරාජය සිද්ධ වෙන්නෙ. පින්වතුනි අපි මේ බුදුගුණ කියන ගමනේ අපි ශක්ති පමණින් වචනයෙන් දෙකෙන් ඔය මාර පරාජය කිව්වට මහා විශාල බිහිසුණු දෙයක්. අතිශය භයංකාර දෙයක්. ඒ මාර පරාජය කියන එක බුදු කෙනෙක් පමණක් කරන දෙයක්. මේ වාගේ යුද්ධයක් බුදු කෙනෙක් පමණක් කරන එකක්. එක බුද්ධ ශාසනයක එක අවස්ථාවයි සිද්ධ වෙන්නෙ. ඒ වාගේ පින්වතුනි අසංඛෙය්‍ය හතරටම විසිහතරක් බුදුරජාණන් වහන්සේලා විසිහතර නමයි ඒ යුද්ධෙ කරලා තියෙන්නෙ. ඉතින් ඒ නිසා අතිශයින් භයංකාර යුද්ධයක් ඒ මාර යුද්ධය කියන එක. ඉතින් ඒ නිසා අපි දැනට ඔය විදියට අපි තේරුම් ගනිමු. ඉතින් මහා බෝසෙවනේ සිද්ධාර්ථ මහා

බෝධිසත්ත්වයන් වහන්සේ හිත දැහැන් ගත කරනවා. උන්වහන්සේ සම්මා සම්බුද්ධත්වයට පත්වෙන අසිරිය අපි ඊළඟ දවසේ කතා කරමු. ඉතින් පෙරුම් පුරාගෙන ආ ගමනේ උතුම් සම්මා සම්බුද්ධත්වය පිණිස වෙර වීරිය වැඩුවේ, මෙවැනි වූ මහා ගොරහීර යුද්ධයක් කොට සව්කෙළෙසුන් නැසුවේ අපි සියලු දෙනාව සසරින් එතෙර කරවන්න. ඒ සම්මා සම්බුදුරජාණන් වහන්සේ දිවි හිමියෙන් මම සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්නා. ආර්ය මහා සංඝරත්නය දිවිහිමයෙන් සරණ යනවා කියලා හිතන්න. ඒ සඳහා ඔබට උතුම් සම්බුදු සරණ සැලසේවා.

ඉතින් පින්වතුනි අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ අංක 153/එම්, නුගහේන මාවත, කඩවත පාර, ගනේමුල්ල යන ලිපිනයේ පදිංචි පින්වත් ඩබ්.ඒ. සංජීවනී ඉන්දිකා මෙනෙවිය විසින්. ඉතින් අපි පළමුවෙන්ම මේ රැස්වුනු අනන්ත අප්‍රමාණ පුණ්‍ය සම්භාරය, ධර්ම දානයෙන් රැස්වෙච්ච පුණ්‍ය සම්භාරය, ඒ වගේම දස මාර සේනාව භාග්‍යවතුන් වහන්සේ පරාජයට පත්කරපු බව සත්‍යයයි, ජයෝ මුනින්දස්ස සුබෝධිමූලේ අහෝසි මාරස්ස පරාජයෝහි උග්ගෝසයුං දේවගණා පසන්නා ඒතේන සච්චේන ජයස්සු, මේ බුදුරජාණන් වහන්සේ ජයසිරිමහා බෝසෙවනේ දසමාර සේනා පරාජයට පත් කරපු බව සත්‍යයයි. දෙව් මිනිසුන් ප්‍රීති ඝෝෂා පැවැත්වූ බව සත්‍යයයි. ඒ සත්‍යානුභාවයෙන් අපේ ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ වසංගතය දුරින්ම දුරු වේවා, සියලුම දෙනාට මනුස්ස වර්ගයාට යහපත සැලසේවා, අපේ මව් රට සුරැකේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වගේම සියලුම දෙවියෝ මේ පින් අනුමෝදන් වී දෙවියන්ගේ දිව්‍ය යස ඉසුරු වඩා වර්ධනය වෙත්වා. ඒ සියලු දෙවියෝ සියලුදෙනා ආරක්ෂා කරත්වා. ඒ වාගේම විශේෂයෙන් මිය පරලොව ගිය පියාණන්ට මේ සියලු පින් අනුමෝදන් කරන්න බලාපොරොත්තු වෙනවා. ඉතින් මියපරලාව ගිය පියාණන්ටත්, ඔබ නමින් මිය පරලොව ගිය කාටත් මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා. පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා. මේ සියලු පින් බලයෙන් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා කියලා අපි පින් පමුණුවමු. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලුම ස්වාමීන් වහන්සේලාටත්, අනගාරිකා මෑණිවරුන්ටත් මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වාගේම පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් අනුමෝදන් වේවා. සියලුදෙනාට ගෞතම සසුනේ

ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම පින්වතුනි, අද දවසේ රැස් කරගන්නට යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන්, අද දවසේ දායකත්වය දරන අංක 153/එම්, නුගගේන මාවත, කඩවත පාර, ගනේමුල්ල ලිපිනයේ පදිංචි පින්වත් ඩබ්ලිව්.ඒ. සංජීවනී ඉන්දිකා මෙනෙවියට අනුමෝදන් වේවා, එතුමියට උතුම් වූ කල්‍යාණමිත්‍ර සම්පත්තිය නිරන්තරයෙන් සැලසේවා. චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්නට මේ පින් හේතු වාසනා වේවා. ඒ වගේම විශේෂයෙන් සුජීවත්ව සිටින එම්.එම්. මිලීනෝනා මැණියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. බලාපොරොත්තු වන ආකාරයෙන් පුණ්‍යානුමෝදනා වේවා. ඒ වගේම මේ ධර්මය අහන සියලු දෙනාටත් ලක්විරු ගුවන්විදුලියේ, ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ දරුවන්ට, ඒ වගේම දායකත්ව දරණ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. ඒ වගේම මව් දෙමව්පිය, ඥාතිබන්ධුමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් වී සියලු දෙනාට උතුම් චතුරාර්ය සත්‍යය ධර්මයම අවබෝධ කරගන්න ලැබේවා. ඔබ සියලු දෙනාට අසිරිමත් සම්බුදු සරණ සැලසේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=BVufiQBqx5I&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=18

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් බුදු සරණ උතුම් දහම් වැඩසටහන, අපිට සරණක් දෙන්න ලොව්තුරා සම්බුදු කෙනෙක් ලෝකයේ පහළ වුනේ කොහොමද කියලා මේ දහම් දේශනාවලින් අපි ඉගෙන ගන්නෙ. අපේ ශාස්තෘන් වහන්සේ ගැන පැය ගණන්, වරු ගණන්, දවස් ගණන්, සති ගණන්, මාස ගණන්, අවුරුදු ගණන් අහන්න තරම් අපිට ශ්‍රද්ධාවක් තියෙන්න ඕන. ඒ වගේම ආඩම්බර කමක් තියෙන්න ඕන. මොකද මේ ලෝකයේ තුන්ලෝකයේම වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් ගැන මෙච්චර නම් විස්තර නෑ. දැන් අපි කියමු හින්දුන්ගේ රාමායණය ගත්තොත් ඒකෙ තියෙන්නෙ තනිකර යුද්ධ, කෝලහාල, ස්ත්‍රීන් රැකගන්න ගත්ත ව්‍යායාම්, ඒවා තමයි මිනිස්සු වරු ගණන් කියව කියවා ඉන්නෙ. දැන් රාමායණයේ තියෙනවා, රාමායණය කියවන කෙනාට, ඒ කියවනවා අහපු කෙනාට වචනයක් හරි අහගෙන හිටපු කෙනාට මරණින් මත්තේ දෙවියන් ළඟට ගන්නවා කියලා. එතකොට ඒ වාගේ ඒවා මිනිස්සු අහගෙන ඉන්නෙ. එහෙව් එකේ පරම වීතරාගී, වීතදෝසී, වීතමෝහී තුන් ලෝකයේ අග්‍ර වූ තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ගැන අහන්න ලැබෙන එක පරම ලාභයක්. මේ දුර්ලභ ලාභය ලැබෙන වෙලාවෙත් සම්බුදු අසිරිය ගැන ඇහුවෙ නැත්නම් ඒකනම් අභාග්‍යයක්මයි. ඉතින් කෙසේ නමුත් ලක්විරු ගුවන්විදුලිය ඔස්සේත්, ශ්‍රද්ධා රූපවාහිනිය ඔස්සේත් මේ දහම් වැඩසටහන විකාශනය කරවන්නට අද දවසේ දායකත්වය දරන්නේ පින්වත් කල්‍යාණී වික්‍රමාරච්චි මහත්මිය විසින්. විශේෂයෙන් එංගලන්ත මහමෙව්නා අනගාරිකා භාවනා අසපුවේ වැඩසිටි නිරාශා මෙහෙණින් වහන්සේට නිදුක් නිරෝගී සුවපත් භාවය ප්‍රාර්ථනා කරමින් අද මේ ධර්ම දානය සිද්ධ කරනවා. ඉතින් ඒවගේම මියපරලොව ගිය ඥාතීන්ටත්, සියලු දෙනාට සෙත් පිණිසත්. ඉතින් මේ පින්වතුන්ට අප්‍රමාණ භාග්‍යයක් සැලසෙනවා බුදුරජාණන් වහන්සේගේ අසිරිමත්, අද දවසේ බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුද්ධත්වය සිද්ධ වුනු විදිය තමයි අපි කතා කරන්නෙ. මේවා අහන්න පිනක් තියෙන්න ඕන. අපි බුදුරජාණන් වහන්සේ සම්බුදු වුනා. අපි දැන්නෙ බුදුරජාණන් වහන්සේ, ඉස්සර අපි ගෙවල් වල ඉන්න කාලෙ එච්චර වචන වත් ගැලපීගෙන යන්නෑ, අපි බුදුන් බුදුවුනා කියලා කියන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධත්වයට පත්වෙච්චි විදිය කොහොමද කියලා අපි දන්නෑ, දැන් දස මාර සේනා පරාජයට පත් කරලා. මිනිස්සු අහනවා එහෙම මාරයො එන්න පුලුවන්ද. පින්වතුනි අපිට නොපෙනෙන නොදන්නා ලෝක තමයි වැඩි, අපි දන්නෙ නැතිතරම්. මිනිස්සු කෙලෙස් එක්කනෙ, කෙළෙස් වලින්

වැහිලානෙ ඉන්නෙ. දැන් මේ දේශනාවෙ තිබ්බානෙ මේ මාර සේනාවගෙන් බැට කැවට පස්සෙ කිසිම ශ්‍රමණ බ්‍රාහ්මණයෙකුට නිවන් මාර්ගය පෑදෙන් නෑනෙ. ගැලවෙන පැත්ත පේන්නෑනෙ. පින්වතුනි හිතන්න, අපිට සාමාන්‍යයෙන්, අපිත් එක්ක සටන් කරන්න මේ කුඹියෙකුටත් පුලුවන්නෙ. මදුරුවෙකුටත් පුලුවන්නෙ අපිත් එක්ක සටන් කරන්න. සියල්ල පසෙක තැබ්බෙවා. ඇහැට පේන්නැති වෛරසයක් විසින් ලෝකයක් බියගුලු කලානෙ. ඇහැට පේන්නැති වෛරසයක් විසින් ලෝකයක් බියගුලු කලා නම්, අත් දාහක් මවාගෙන මාරයා පැමිණීම ගැන කවර කතාද. තුන් ලෝකෙම අහුවෙලානෙ තියෙන්නෙ. වෛරසයකට මෙච්චර සලිත වෙලා ගියානම්. ඒ නිසා පින්වතුනි නොදන්න දේවල් ගැන අපි කතා කරනවාට වැඩිය හොඳයි භාග්‍යවතුන් වහන්සේ වදාළ ධර්මය පිළිගෙන සරණ යන එක. ඒ නිසා අපිට බුදුරජාණන් වහන්සේ සේනාව අපි කරා එන විදිය වදාළානෙ. කාමාතේ පඨමං සේනා. පිරිසක් අපිත් එක්ක අපිව රඟමඩලේ නටවනවා, කාමය මුල්කරගෙන. දුතියා ආරතිවුච්ඡති, පිරිසක් අපිට රඟමඩලේ නටවනවා ආරතිය, කුසලයට කිසි කැමැත්තක් නැති බව මුල් කරගෙන රඟමඩලේ රඟවනවා. ඊළඟට තතියා කුප්පිපාසි, බඩගින්නෙන් පිපාසයෙන් මේ ලෝකයේ සත්ත්වයාව නටවනවා, තණ්හාවෙන් නටවනවා, නිදිමතෙන් නටවනවා, ඊටපස්සෙ භය බිරාන්ත කමින්, විචිකිච්ඡාවෙන්, ඊළඟට ලාභ සත්කාර කීර්ති ප්‍රශංසා යසසින්, ඊළඟට තමා උසස් කරලා අනිත් අය පහත් කරන බවින්. මේ විදියට අපි කෙලෙස් වලින් නටවා නටවා තමයි මේ ලෝක සත්ත්වයා ඉන්නෙ. ඒ දේවල් තමයි දස මාර සේනා. තමා තුළම ඒ සේනාව තමා තුළින්ම පේන්න ඉන්නවානෙ. ඉතින් ඒ නිසා පින්වතුනි මේ කරුණු කාරණා තේරුම් ගන්න ඕන, බුදුරජාණන් වහන්සේ බෝධිසත්ත්ව කාලෙම මේ ඔක්කොම තේරුම් ගත්තා කියලා යමක් ඇද්ද ආශ්චර්යයි අද්භූතයි. කියලා දෙන්න කෙනෙක් නැතිව, තෝරලා දෙන්න කෙනෙක් නැතිව. කියලා දෙන්නෙ තෝරලා දෙන්න තේරෙන කෙනෙක් තුන් ලෝකෙම කෙනෙක් නැතිව ඉඳිද්දි බුදුරජාණන් වහන්සේ ඉස්සරහපිටට ඒ බලවේගය ආවට පස්සෙ කෙලින්ම කතා කරනවානෙ, ප්‍රමාදී වූ ජනතාවගේ ඥාතියා වූ පාපී මාරය කියලා කතා කරනවානෙ කෙලින්ම. මේවානෙ ආශ්චර්ය අද්භූත දේවල්. ඊටපස්සෙ දැන් අර විදියට මහා බෝධිසත්ත්වයන් වහන්සේ පාරමී ධර්මයන් සිහි කරලා මේ මිහිමඩලට ශ්‍රී හස්තය දික් කරලා සාක්ෂි දුන්නු මොහොතේ මේ මිහිමඩල කම්පා වූ බව ඔබ මීට කලින් ශ්‍රවණය කලා. ඉතින් පින්වත්නි, ඊටපස්සෙ ඔන්න දැන් බෝධිරාජ කුමාර සූත්‍රයෙ ඉතුරු ටික තියෙනවා. ඊටපස්සෙ පින්වත්

බෝධිරාජ කුමාරය, මම හොඳට හිත සමාධිමත් කළා. සමාධිමත් කරල හොඳට හිත සන්සිඳෙව්වා. ආනාපානාසතිය තුළ හිත හොඳට ගයාවේ වජිරාසනයේ ජයසිරිමහා බෝ සෙවණේ හිත සමාධිමත් කරනකොට විතක්ක විචාර පීති සුඛ ඒකාග්ගතා සහිත පඨමධ්‍යානය, පළවෙනි ධ්‍යානය තුළ ආනාපානාසතිය තුළ හිත වැඩුනා. දෙවෙනි ධ්‍යානය තුළත් විතක්ක විචාර රහිත වූ සමාධියෙන් හටගත්තු පීති සුඛය ඇති දෙවෙනි ධ්‍යානයේ හිත හොඳට සමාධිමත් වුනා. ප්‍රීතියෙන් හිත අයින් කරගෙන සැපය පවතින තුන්වෙනි ධ්‍යානය ආර්යයන් වහන්සේලා ප්‍රශංසා කරන තුන්වෙනි ධ්‍යානය තුල හිත සමාධිමත් කලා. සුඛස්සච දුක්කස්සච පානා සුක්ඛස්සච පානා දුක්ඛස්සත පානා පුබ්බේව දෝමනස්ස සෝමනස්ස ගාමා අත්තංගමං, සැපත් අත්හැරලා, දුකත් අත්හැරලා කලින්ම දෝමනස්සාදිය අත් හැරලා අදුක්ඛම සුඛං, සැප දුක් රහිත වූ, උපෙක්ඛාසති පාරිශුද්ධිං, උපෙක්ෂාවෙන්ම හිත පිරිසිදු වෙලා ගිය චතුත්ථධ්‍යානං උපසම්පජ්ජයාමි, සතරවෙනි ධ්‍යානයට සමවැදිලා වාසය කලා. බුදුරජාණන් වහන්සේ දේශනා කලා ඕන්න ඔය විදියට සමාධිමත් හිතක් ඇතිවුනාට පස්සෙ ඒවං සමාහිතේ චිත්තේ, හිත සමාධිමත් වුනාට පස්සෙ පරිශුද්ධි, ගොඩාක් පිරිසිදු වෙලා හිත පරියෝධාතේ, ගොඩාක් හිත බබළනවා. අනංගනේ, උපක්ලේශ අයින් වෙලා හිතින්. අනංගනේ විගතෝ උපක්ලේශේ, සියලු කෙලෙස් වලින් අයින් වෙලා අනංගනයන්ගෙන් අයින් වෙලා. මුදුභූතේ, හිත ගොඩාක් මෘදු වුනා අර සමාධියත් එක්ක. කම්මනියේ, හිත ඕනම දේකට හරවන්න පුලුවන් විදියට හැදුනා. අවබෝධයට සුදුසු වුනා. ඨිතේ, ඒ අවබෝධ කරගන්න පුලුවන් ස්වභාවයක පිහිටියා. ආනිඡ්ජපත්ති, නොසෙල්වෙලා සමාධිය තුළම හිත රැඳුනා. ඊටපස්සෙ ඕන්න ඔය විදියට අකම්පිත වුනාම නොසෙල්වී තිබුණට පස්සෙ, හිත සෙලවෙන්නැතිව අකම්පිත වෙලා සමාධියෙන්, ආන්න ඊටපස්සෙ පුබ්බේනිවාසානුස්සතිඥාණායචිත්තං අභිනින්නාදති, පෙර ජීවිත බලන්න හිත නැමුණා. ඔන්න දැන් මේ පළමු යාමයේ සිද්ධ වෙන්නෙ. දැන් කවුරුවත් නෑ ළඟ. දෙවියන් බඹුන් සියලු දෙනා අතහැරලා ගිහිල්ලා. එහෙන් මාරයා පැරද පලා ගිහිල්ලා. නිහඬ පරිසරයේ මහා සඳක් ආකාශයේ පායලා තියෙනවා වෙසක් පෝය දවස. පෙර ජීවිත කොහාමද බැලුවේ, ඒකම්පි ජාතිං, එක ජීවිතයක් ජේනවා. ද්වේපි ජාති, ජාති දෙකක්. තිංසංප ජාතියෝ, ජීවිත තුනක් ජේනවා. චත්තාසෝපි ජාතියෝ. පඤ්චපි ජාතියෝ, දසපි ජාතියෝ, වීසතිංපි ජාතියෝ, තිංසංපි ජාතියෝ, චත්තාරිසංප ජාතියෝ, පහක්. දහයක්, විස්සක්, තිහක්, පනහක්, ජාති සතම්පි, ජාති සීයක්,

ජාති සහස්සම්පි, ජාති දාහක්, ජාති දසසහස්සම්පි, ජාති ලක්ෂ ගාණක්, අනේකේපි සංවට්ඨකප්පි, මේ ලෝකය විනාශ වී යන කාලවල, අනේකේපි විවට්ඨකල්පි, ලෝකය හැදි හැදී යන කාලවල. අනේකේපී සංවට්ටවිවට්ඨ කප්පි, මේ විදියට නොයෙක් සංවට්ඨ විවට්ඨ කල්ප වල, අමුත්‍රාසිං ඒවං නාමෝ, මං ඒ විදියට හිටියා, මෙන්න ඒ කාලයෙ නම. සංවට්ඨවිවට්ඨ කල්ප කෝටි ගාණකට කලින් නමත් මතකයි. ඒවං ගොත්තෝ, ගෝත්‍රයත් මතකයි. ඒවං වණ්ණෝ, වර්ණයත් මතකයි. ඒව මාහාරෝ, ඒ වගේම මං මේ විදියට තමයි කෑවෙ බීවෙ, ඒවං සුඛ දුක්ඛ පටිසංවේදී ඒව මායු පරියන්තෝ, මං මේ විදියට තමයි සැප දුක් වින්දේ, මං මේ විදියට තමයි ආයුෂ මට මෙච්චරයි තිබ්බෙ. සෝ තථෝ චුතෝ අමුත්‍ර උදපාදි. එතනින් මං මැරිලා ගිහිල්ලා අහවල් තැන ඉපදුනා. තත්‍රාපාසිං ඒවං, එතන නම මේකයි, එතන වර්ණය මෙහෙමයි, එතන කෑවෙ බීවෙ මෙහෙමයි, එතන සැප දුක් වින්දෙ මෙහෙමයි, ඒව මායු පරියාපන්තෝ, එතන ආයුෂ මෙච්චරයි තිබ්බෙ, සෝ තතෝ චුතෝ ඉදෝපපන්නෝ, එතනින් චුත වෙලා අතන ඉපදුනා. ඉතී සාකාරං මේ ආකාරයට දස උද්දේසං, මේ ක්‍රමයට. අනේකවීතං පුබ්බේනිවාසං අනුස්සරාමි, නොයෙක් ආකාරයට පෙර ජීවිත මං බලනවා. මම මීට කල්ප අසංඛෙය්‍ය හතරකට කලින් කාපු බත් වේල මතකයි, පේනවා. කොහොමද පෙර ජීවිත පෙනීම. ඔක්කෝම පේන්න ගත්තා. සසරම පේන්න ගත්තා. පළවෙනි යාමය තුළ. එතකොට ඒ පළවෙනි යාමයේ ලබපු ඥාණයට කියනවා <u>චුතූපපාත ඥාණය</u>. තාම සම්මා සම්බුදු වෙලා නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ බැලුවා මේ විදියට ඉපදි ඉපදි යන එක තියෙන්නෙ මට විතරද. එහෙම බලාගෙන බලාගෙන යනකොට උන්වහන්සේට ආන්න ඊළඟ ඥාණය පහළ වුනා. මැදියම. මොකක්ද පෙනුනේ, මේ විදියට පෙර ජීවිතත් බලනකොට හිත ගොඩාක් සමාධි වුනා. බලන්න බලන්න සමාධි වුනා. අපිට කලින් දේවල්, මේ ජීවිතේ වෙච්ච දේවල් මතක් කරනකොට ඔලුව අවුල් වෙනවා. බුදුරජාණන් වහන්සේට සමාධියෙන් පෙර ජීවිත බලනකොට හිත සමාධිමත් වෙනවා. මේ විදියට හිත සමාධිමත් වුනාම, හිත පිරිසිදු වුනාම, හිත බබළනකොට, උපක්ලේශ නැති වුනාම, හිත මෘදු වුනාම, අවබෝධයට සුදුසු වුනාම, නොසෙල්වී තිබුණාම, අකම්පිත වුනාම, සත්ත්වයන් චුත වෙන හැටි, උපදින හැටි දකින ඥාණය පහළ වුනා. මොකක්ද? චුතූපපාත ඥාණය. බලමු ඒ ඥාණයේ ස්වභාවය මොකක්ද කියලා, සෝ දිබ්බෙන චක්ඛුණා විසුද්ධේන අතික්ඛංත මානුසුඛේන සත්තේ පස්සති, මේ දිවැසින් පේන්න ගත්තා, අප්‍රමාණ සත්ත්වයන්ගේ ස්වභාවයන්. චවමාණේ, මැරිලා යන හැටි පේනවා.

උපපජ්ජමානේ, ඉපදෙන හැටි පේනවා. හීනේ පණීතේ ස්වන්නේ දුබ්බණ්ණේ සුගතේ දුක්ඛතේ, හීන ප්‍රණීත, ලස්සන කැත, සුගති දුගති වල යථා කම්මෝපගේ සත්තේ පජානාති, කර්මානුරූපව සත්ත්වයා ගිහිල්ලා උපදින හැටි පේනවා. ඉමේ වත භොංතෝ සත්තා කාය දුච්චරිතේන සමන්නාගතා, අනේ මේ භවත් සත්ත්වයෝ කාය දුෂ්චරිතයෙන් සමන්විත වෙලා, වචී දුෂ්චරිතයෙන් යුක්ත වෙලා, මනෝ දුෂ්චරිතයෙන් යුක්ත වෙලා, ආර්යයන් වහන්සේලාට උපවාද කරලා, මිත්‍යාදෘෂ්ටික වෙලා, මිත්‍යාදෘෂ්ටි කර්ම සමාදන් වෙලා, කය බිඳිලා මරණින් මත්තෙ අපායං දුග්ගතිං විනිපාතං නිරයේ, මෙන්න සතර අපායට වැටිලා. අපායට වැටිලා. ඉනේවා පණබොංත, තවත් සත්ත්ව කොට්ඨාශයක් ඉන්නවා, ඒ ආය කාය සුචරිතය, වචී සුචරිතය, මනෝ සුචරිතයෙන් යුක්ත වෙලා ආර්යයන් වහන්සේලාට ගරහලා නෑ, මිත්‍යාදෘෂ්ටික වෙලා නෑ, මිත්‍යාදෘෂ්ටික කර්ම සමාදන් වෙලත් නෑ, ඒ අය කය බිඳිලා මරණින් මත්තේ ඉපදෙනවා කායස්සවේදා පරම්මරණං සුග්ගතිං, සුගති ලෝකවල. ඉති දිබ්බේන චක්ඛුණා විසුද්ධේන අතික්ඛන්ථ මානුසුඛේන සත්තේපස්සති, ඔය විදියට පිරිසිදු දිවැසින් දකිනවා මේ සත්ත්වයෝ, ඉපදෙනවා, මැරෙනවා, හීන ප්‍රණීත ස්වන්න දුබ්බන්න ලස්සන කැත සුගති දුගති වල කර්මානුරූපව මේ සත්ත්වයා උපදිනවා ඔක්කෝම පේන්න ගත්තා. සියලුදෙනාගේ ජීවිත පේන්න ගත්තා. මේ විදියට කර්මානුරූපව සත්ත්වයා උපදිනවා තත්පරේට ලක්ෂ කෝටි ගාණකගේ ජීවිත පේනවා. ඒක පින්වතුනි සෘද්ධිවිෂයක්. ඒක මේ එක මොහොතකින් කීදෙනෙක්ගේ ජීවිත පේනවාද ඒවා අපිට කියන්න තේරෙන්නෑ, ශාස්තෘණ් වහන්සේට අසුරු සැණකින් ජීවිත හොයන්න පුලුවන්. ඒක සෘද්ධිවිෂයක්. ඒක තමයි දිවැස කියන්නෙ. සමාධියෙන් උපද්දවාගත්තු දිවැස. ඊටපස්සෙ පින්වතුනි, ඔය මධ්‍යම යාමයේ ඔය විදියට ඉපැදුනා දෙවැනි නුවණ, චුතූපපාත ඥාණය. ඊළඟට පින්වතුනි බුදුරජාණන් වහන්සේට මේ විදියට හිත සමාධිමත් වෙලා සමාධිමත් වෙලා මහා බෝධිසත්ත්වයෝ ගයාවේ ජයසිරිමහා බෝ සෙවණේ, උන්වහන්සේ හිත ගොඩාක් මෘදු වෙලා මේ විදියට සසර ගොඩාක් ඔක්කෝම පේනකොට මේ සත්ත්වයෝ මේ ජරා මරණ වලට පත්වෙවී පත්වෙවී යන්නේ කුමක් නිසාද, කුමක් ඇති කල්හීද මේ ජරා මරණ තියෙන්නේ, මෙම වයසට යෑම්, ලෙඩවීම්, කලකෝලහාල, කුසල් කරන ඒවා, අකුසල් කරන ඒවා, පින් කරන ඒවා, පව් කරන ඒවා, මේ සංසාර චක්‍රයකට, මේ මිනිස්සු, මේ සත්ත්වයෝ, මොන ලෝකෙක හරි මේ ඇතිවුනේ කුමක් නිසාද, කුමක් ඇති කල්හිද, කුමක් ඉපදීමෙන්ද? ඉපදුනු නිසා. හොඳට අලුයම් සමයේ

මහාබෝධිසත්ත්වයන්ගේ හිතට වැටහෙනවා. ජාති සති ජරා මරණං, ජාතියා අස්සති ජරා මරණං නහෝති, එතකොට ජාතියක් තියෙන නිසාමයි මේක තියෙන්නෙ. ඉපදීම කියන එක, ඉපදීමෙන් තමයි ජරා මරණය උපදින්නෙ. ඊටපස්සෙ බැලුවා, දැන් බලන්න හිත ගොඩාක් සමාධිමත් වුනාට පස්සෙ කල්පනා කරන්නේ, හොඳට වැටහෙන්නේ. අනිත් එක දැන් මේ වෙනකොට හිත ගොඩාක් සමාධිමත් වෙලා. අපි දුක ගැන හිතන්නෙ අනේ දුක්වෙලා. අයියෝ මෙහෙමත් දුකක්. අනේ මේ ජරා මරණ කියලා ඔළුව මෙහෙම කරලා, කඳුළු වැටිලා, අනේ ජරා මරණ කියනවා. අවබෝධ වෙන් නෑ. මහා බෝධිසත්ත්වයන්ට මේක අවබෝධ වුනේ හිත සමාධිමත් වුනාට පස්සෙ. හිත හොඳට එකඟ වුනාට පස්සෙ. ඊටපස්සෙ බැලුවා මේ ඉපදීම කියන එක උපදින්නේ කොහොමද. ඒ ඉපදීම කියන එක උපදින්නේ, ඉපදීම කියන එක තියෙන්නේ කර්ම සකස් වෙච්චි නිසා. උපතකට සකස් වෙලා. කාම ලෝකයේ හෝ රූප ලෝකයේ හෝ අරූප ලෝකයේ හෝ උපදින ස්වභාවයක් උපදින කර්ම ස්වභාවයක් සකස් වෙලා. ඒ උපදින ස්වභාවයට කර්ම සකස් වීමට කියනවා භවය. භවය නිසයි ඉපදීම. භවය ඇති කල්හි ඉපදීම වේ. භවය උපදීමෙන් ඉපදීම උපදී. දැන් බලන්න මහා බෝධිසත්ත්වයෝ පවා මේ පටිච්ච සමුප්පාදය කල්පනා කරන ක්‍රමය. අපිට ජේනතැනින් කල්පනා කරන්න ඕන. එකපාරම අවිද්‍යාව අල්ලන්නෑ. අවිද්‍යා පච්චයා සංකාරා කියලා අපි පාලියෙ පාඨය ඒ දහම් පරියාය එහෙම තිබ්බට විමසන්නෙ එහෙම නෙවෙයි. විමසන්නෙ ජරා මරණ වලින්. සංයුත්ත නිකාය දෙකේ, ගෝතම සූත්‍රයේ කියලා තියෙනවා මහා බෝධිසත්ත්වයෝ කොහොමද පටිච්ච සමුප්පාදය විමසුවේ ජයසිරිමහා බෝ සෙවණේ කියලා. විපස්සී බුදුරජාණන් වහන්සේ පටිච්ච සමුප්පාදය සිහිකලේ කොහොමද? සිඛී, වෙස්සභූ, කකුසඳ, කෝණාගමන, කාශ්‍යප බුදුරජාණන් වහන්සේලා පටිච්ච සමුප්පාදය විමසුවේ කොහොමද කියලා ඒ සූත්‍රයේ තියෙනවා. සියලු බුදුරජාණන් වහන්සේලා එකම ක්‍රමයකට තමයි බෝ සෙවණේ පටිච්ච සමුප්පාදය විමසන්නේ. ඊටපස්සේ කල්පනා කලා ඒ භවය උපදින්නේ කුමක් ඇති කල්හීද? කුමක් උපදීමෙන්ද භවය තියන්නෙ? ඊටපස්සෙ උන්වහන්සේට අවබෝධ වුනා, එහෙම විමසනකොට අවබෝධ වුනා, උපාදාන, බැඳීම තියෙන තැන තමයි කර්ම සකස් වෙන්නෙ. ඒක සීලයකට බැඳිලා තියෙන්න පුලුවන්, ආත්මීය වශයෙන් බැඳිලා තියෙන්න පුලුවන්, දෘෂ්ටි වලට බැඳිලා තියෙන්න පුලුවන්, මොන බැඳීමක් වුනත් එතන තියෙන්නෙ කර්ම සකස්වීමක්. උපාදාන පච්චයා භවො. උපාදාන ඇති කල්හි භවය ඇත. ඊළඟට

උපාදාන ඉපදීමෙන් භවය උපදී. ඒ විදියට. ඊටපස්සෙ මහා බෝධිසත්ත්වයෝ කල්පනා කලා, ඒ භවය උපාදානය හැදෙන්නෙ කොහාමද? බැදෙන්න නම් අනිවාර්යයෙන්ම ඇලෙන්න ඕන, තෘෂ්ණාව. තණ්හාව තියෙන තැනයි බැඳිලා යන්නෙ. එහෙනම් තණ්හාව ඇති කල්හි උපාදාන ඇත. තණ්හාව ඉපදීමෙන් උපාදාන උපදී. ඊළඟට විමසුවා හොඳට තෘෂ්ණාවක් කොහොමද හටගන්නෙ. තෘෂ්ණාව හටගන්නෙ වේදනාව, අනිවාර්යයෙන් තමන්ට ඇතිවෙච්ච වේදනාවක් මුල් කරගෙනමයි ඇලීම ඇතිවෙලා තියෙන්නෙ. සැපක් වෙන්න පුලුවන්, දුකක් වෙන්න පුලුවන්, සැප දුක් රහිත විදීමක් වෙන්න පුලුවන්. ඒ වේදනාව හටගන්නවාද, ඇසේ හෝ කනේ හෝ නාසයේ හෝ දිවේ හෝ කයේ හෝ මනසේ, ඒ වේදනාව උපදීම මුල් කරගෙනම තෘෂ්ණාව උපදිනවා. එතකොට වේදනාව ඇති කල්හි තණ්හාව ඇත. වේදනාව උපදීමෙන් තණ්හාව උපදී. ඊටපස්සෙ බැලුවා මේ වේදනාව කියන එක කොහොමද හටගන්නෙ. අවබෝධ වුනා. දැන් විමසනවා කොහොමද මේක වෙන්නෙ කියලා. අවබෝධ වුනා. මේක තමයි ක්‍රමය. ඊටපස්සෙ හොඳට විමසුවා කියනවා මහා බෝධිසත්ත්වයෝ වේදනාව ඇතිවෙන්නේ කුමක් තිබුනොත් ද? වේදනාව උපදින්නේ කුමක් ඉපදුනොත් ද? ඒ හොඳට එහෙම විමසනකොට විමසනකොට ගෞතම නම් වූ මහා බෝධිසත්ත්වයන්ට අවබෝධ වුනා, බුදුරජාණන් වහන්සේට අවබෝධ වුනා, වේදනාව උපදින්නේ ස්පර්ශය නිසා. ඇහැයි රූපයයි විඤ්ඤාණයයි එකතුවීම ඇහේ ස්පර්ශය. ස්පර්ශ වුන්නැත්නම් වේදනාවක් උපදින් නෑ. කණයි ශබ්දයයි විඤ්ඤාණයයි එකතු වීම කණේ ස්පර්ශය. ස්පර්ශයක් වුන් නැත්නම් විදීමක් උපදින් නෑ. නාසයයි ගඳ සුවඳයි විඤ්ඤාණයයි එකතුවීම ස්පර්ශය. ඒ ස්පර්ශය වුන් නැත්නම් විදීම උපදින් නෑ. දිවයි රසයයි පහසයි එකතු වීම ස්පර්ශය. ඒ තුනේ එකතු වීම ස්පර්ශය. එතකොට තමයි රසට අනුව වේදනාව හටගන්නෙ. කයයි පහසයි විඤ්ඤාණයයි එකතුවුනොත් එතන තමයි වේදනාව හටගන්නෙ. මනසයි අරමුණුයි විඤ්ඤාණයයි එකතුවුනොත් මනසේ ස්පර්ශය, එතන තමයි වේදනාව හටගන්නෙ. ඵස්ස පච්චයා වේදනා. ස්පර්ශය ඇති කල්හි වේදනාව ඇත. ස්පර්ශය උපදීමෙන් වේදනාව උපදී කියලා උන්වහන්සේට හොඳට බෝසෙවණේදී හිත වැඩ කලා. හොඳට අවබෝධ වුනා. ඊටපස්සෙ මහා බෝධිසත්ත්වයන් වහන්සේ හොඳට නුවණින් කල්පනා කලා, හොඳට නුවණින් විමසුවා, හොඳට දැන් හිත සමාධිමත් වෙලා, පෙර ජීවිත පේනවා, ලෝක සන්නිවාසය පේනවා, උපදිනවා මැරෙනවා පේනවා, සියලු ඥාණ සමුදායෙන්

මේ කල්පනා කරන්නෙ. හිත ගොඩාක් මෘදු වෙලා. හිත ගොඩාක් අවබෝධයට සුදුසු වෙලා. හිත ගොඩාක් වැටහෙන ස්වභාවයට ඇවිල්ලා. සසරේ පිරූ දස පාරමී සත්‍යය එකතු වෙලා, පුරපු ප්‍රඥා පාරමිතාව එකතු වෙලා, වීර්යය පාරමිතාව එකතු වෙලා, සත්‍යය අවබෝධ කරන්න පුරුදු කරපු සත්‍යය පාරමිතාව එකතු වෙලා, ඒ සියල්ල තුළින්ම කල්පනා කලා, ස්පර්ශයක් තියෙන්නේ කුමක් නිසාද? ස්පර්ශය ඇතිවෙන්නේ, උපදින්නේ කුමක් නිසාද? ආයතන ඇහැක් තිබ්බෙ නැත්නම් කුමක් ස්පර්ශ වෙන්නද. කණක් තිබ්බෙ නැත්නම් කුමක් ස්පර්ශ වෙන්නද. නාසයක් තිබ්බෙ නැත්නම් කුමක් ස්පර්ශ වෙන්නද. දිවක් තිබ්බෙ නැත්නම් කුමක් ස්පර්ශ වෙන්නද. කයක් තිබ්බෙ නැත්නම් කුමක් ස්පර්ශ වෙන්නද. මනසක් තිබ්බෙ නැත්නම් කුමක් ස්පර්ශ වෙන්නද. සළායතන පච්චයා ඵස්සො. ආයතන හය ඇති කල්හි ස්පර්ශය ඇත. ආයතන හය ඉපදීමෙන් ස්පර්ශය උපදී. ඊටපස්සෙ කල්පනා කලා උන්වහන්සේ ඒ ආයතන හය ඇති කල්හි මේක වෙන්නෙ කියන එක අවබෝධ වුනා. ඊටපස්සෙ විමසුවා ආයතන හය ඇතිවෙන්නෙ කුමක් නිසාද. ආයතන හය තියෙන්නේ කුමක් නිසාද, උපදින්නේ කුමක් නිසාද. දියුණු කරපු ප්‍රඥාවෙන් ඒ විදියට විමසනකොට ඒ විදියට විමසනකොට අවබෝධ වුනා, මේ ආයතන හය තියෙන්නෙ නාම රූප නිසා. දැන් පින්වතුනි ඇහැක්, මස්ගුලියක් මෙහෙම තිබ්බ පලියට මේ එක ඇහැක් ආයතනයක් විදියට ක්‍රියාත්මක වෙන්නෙ නෑ. කණ මෙහෙම තිබ්බ පළියට ක්‍රියාත්මක වෙන්නෙ නෑ, එහෙම නම් මැරිච්ච මිනියෙත් ඇස් වලින් පේන්න ඕන, කන් ඇහෙන්න ඕන. ඒ සතර මහා ධාතුත් වේදනා සංඥා චේතනා ඵස්ස මනසිකාර කියන නාමධර්මයනුත් සතර මහා ධාතුත් දෙකම එකතු වෙච්ච තැන තමයි ආයතනයක් හටගන්නෙ. ඇහැක් හටගන්නෙ. එතකොට නාමරූප තමයි සච්චත්තාරෝච මහා භූතා චතුන්නත්තාරෝච මහා භූතානං උපාදාය රූපං අයං වුච්ඡති භික්ඛවෙ රූපං, සතර මහා ධතුත් සතර මහා ධාතුවෙන් හටගත් දේවලුත් තමයි රූපය කියන්නෙ. දැන් ඔන්න ඇහැ තියෙනවා සතර මහා ධාතුවෙන් හටගෙන. එතකොට ඇහැට පේන යම්තාක් රූප තියෙනවා, ඒවා සතර මහා ධාතු වලින් හටගත්තු දේවල්. කණත් එහෙමයි, ආයතන හයටමත් එහෙමයි, ඒවා සතර මහා ධාතු තිබ්බට බෑ, වේදනා සංඥා චේතනා ඵස්ස මනසිකාර ටිකත් එකතු වෙන්න ඕන. අන්න ඒ නාමරූප එකතු වුනාට පස්සෙ තමයි ඇහැ කියන ආයතනය හැදෙන්නෙ. එතකොට නාමරූප ඇති කල්හි ආයතන හය ඇත. නාමරූප ඉපදීමෙන් ආයතන හය උපදී. ඊටපස්සෙ ඒක අවබෝධ වුනා. ඊටපස්සේ මහා

බෝධිසත්ත්වයන් වහන්සේ හොඳට සමාධිමත් හිතින් විමසුවා, මේ නාමරූප තියෙන්නේ කුමක් නිසාද. නාමරූප උපදින්නේ කුමක් ඉපදීමෙන්ද. උන්වහන්සේට අවබෝධ වුනා විඤ්ඤාණය නිසා. විඤ්ඤාණය නිසා තමයි මේ ඔක්කෝම ක්‍රියාකාරීත්වය, ආයතන හයේ ක්‍රියාකාරීත්වය සිද්ධ වෙන්නෙ. නාමරූපයන්ගේ ක්‍රියාකාරීත්වය සිද්ධ වෙන්නෙ. එතකොට විඤ්ඤාණය තියෙන්න ඕන. සතර මහා ධාතූන්ගේ පැවැත්මට විඤ්ඤාණය තියෙන්න ඕන. දැන් අපි ගත්තොත් එහෙම මිනියක, ඒ මිනියක සතර මහා ධාතූන්ගේ පැවැත්මක් නෑ, මැරිච්ච එකක්නෙ. ඇයි ඒ? ඒ සතර මහා ධාතුව තුළ විඤ්ඤාණය පිහිටලා නෑ. ඊටපස්සෙ තමයි මනසිකාරයට විඤ්ඤාණය ඕන. අවිඤ්ඤාණක දෙයක් මනසිකාර කරන් නෑ. ඊටපස්සෙ ස්පර්ශයට විඤ්ඤාණය ඕන. මනසිකාරයට විඤ්ඤාණය ඕන. ඊළඟට ඵස්ස, වේදනා, සංඥා හඳුනාගැනීම සිද්ධ වෙන්නෙත් විඤ්ඤාණය මුල් කරගෙන. එතකොට මේ නාමරූප ඔක්කොම තියෙන්නේ විඤ්ඤාණයක් මුල් කරගෙන. විඤ්ඤාණය නිසයි මේ නාමරූප වල පැවැත්ම තියෙන්නේ කියලා උන්වහන්සේට අවබෝධ වුනා. පොතකින් පතකින් බලන්නැතිව, තවත් කෙනෙක් කියන්නැතිව මෙතරම් ඥාණ සමුදායකින්, පාරමී පිරූ, නුවණ මෙහෙය වූ, ප්‍රඥාවේ මුදුන් පැමිණි තථාගත බුදුරජාණන් වහන්සේ වජිරාසනයේ කෙළෙස් නසන්න වැඩ හිටපු ගමන ඒ විදියට අවබෝධ වුනා. අවබෝධ වුනාට පස්සෙ උන්වහන්සේ බැලුවා මේ විඤ්ඤාණයක් තියෙන්නෙ කොහොමද? සංස්කාර නිසා. කාය සංස්කාර, වචී සංස්කාර, චිත්ත සංස්කාර. එතකොට සංස්කාර නිසා, සංස්කාර යම්තාක් වේද, ඒ තාක් විඤ්ඤාණ පැවැත්ම තියෙනවා. ඊටපස්සෙ සංස්කාර ඇති කල්හි විඤ්ඤාණය ඇත, සංස්කාර උපදීමෙන් විඤ්ඤාණය උපදී. සංස්කාර. සංස්කාරයන්ගේ පැවැත්ම කුමක් නිසාද තියෙන්නෙ. ඊටපස්සෙ අවබෝධ වුනා, අවිද්‍යාව නිසා. අවිද්‍යාව, අවිද්‍යාව කියන්නෙ මේ ස්වභාවය අවබෝධ වෙලා නෑ. එහෙනම් මේ ඔක්කෝම තියෙන්නෙ අනවබෝධය නිසා. අවබෝධ වුනා නම්. දැන් අපි හිතන්නකො බලන්න අපි සාමාන්‍යයෙන් එක්කෙනෙක් ඇවිල්ලා මොකාක්හරි විකාර ගොඩාක් කරනවා. එතකොට අපි ඔක්කෝටම අහුවෙනවා, අහුවෙන්නෙ ඒක ඇත්ත කියලා හිතපු නිසා. ඒක ඇත්තක් නෙවෙයි ඒක බොරුවක් කියලා තේරුම් ගත්තු ගමන්ම එයා මෙතෙක් කාලයක් නටපු නාඩගම් ඔක්කෝම බොරුවක් කියලා අවබෝධ වෙනවා. ඒ වගේ තමයි අවිද්‍යාව, චතුරාර්ය සත්‍යය අවබෝධ නොවීම කියන එක මතයි මේ ඔක්කෝගෙම වැඩපිළිවෙල

තියෙන්නෙ. මේ චතුරාර්ය සත්‍යය අවබෝධ වුනා නම් මේ ඔක්කෝම ඉවරයි. ඊටපස්සෙ දුක දුකක් හැටියට අවබෝධ වෙලා නෑ, දුක්ඛය, දුක පිළිබඳ ඥාණයක් නෑ. දුක්ඛ සමුදය පිළිබඳව ඥාණයක් නෑ, නිරෝධය පිළිබඳව ඥාණයක් නෑ, මාර්ගය පිළිබඳව ඥාණයක් නෑ. චතුරාර්ය සත්‍යය අවබෝධ නොවුන ස්වභාවයට තමයි අවිද්‍යාව කියලා කියන්නෙ. මහා බෝධිසත්ත්වයන්ට ජයසිරිමහා බෝ සෙවණේ, මේ සසරේ දුක ඇතිවෙන වැඩපිළිවෙල අවබෝධ වුනා. අවිජ්ජා පච්චයා සංකාරා, සංකාර පච්චයා විඤ්ඤාණං, විඤ්ඤාණ පච්චයා නාමරූපං, නාමරූප පච්චයා සළායතනං, සළායතන පච්චයා ඵස්සො, ඵස්ස පච්චයා වේදනා, වේදනා පච්චයා තණ්හා, තණ්හා පච්චයා උපාදානං, උපාදාන පච්චයා භවො, භව පච්චයා ජාති, ජාති පච්චයා ජරා මරණං සෝකපරිදෙව දුක්ඛ දෝමනස්සුපායාසා සම්භවන්ති. ඒවමේතස්ස කේවළස්ස දුක්ඛකන්ධස්ස සමුදයෝ, සමුදයො සමුදයෝති භික්ඛවෙ පුබ්බේ අනනුස්සුතේසු ධම්මේසු. මෙන්න මෙහෙමයි දුක හටගන්නේ කියලා පෙර නොඇසූ විරූ ධර්මයන්හි දහම් ඇස පහළ වුනා. ඥාණය පහළ වුනා. ප්‍රඥාව පහළ වුනා. විද්‍යාව පහළ වුනා. ආලෝකය පහළ වුනා. ඊටපස්සෙ මහා බෝධිසත්ත්වයෝ කල්පනා කලා මේ ජරා මරණ සෝකපරිදේව ආදී මේ සියලූ දුක් කන්දරාව නැතිවෙන්නේ කුමක් නැතිවීමෙන්ද, කුමක් නිරුද්ධ වීමෙන්ද? ඉපදීම නැති කල්හි ජරා මරණ නැත. ඉපදීම නිරුද්ධ වීමෙන් ජරා මරණ නිරුද්ධ වේ. එතකොට එහෙනම් ඒක අවබෝධය උන්වහන්සේගේ. එතකොට විමසුවේ අවබෝධයෙන් විමසුවා, ඉපදීම නැතිවෙන්නෙ කොහොමද, ඉපදීම නිරුද්ධ වෙන්නෙ කොහොමද? භවය නැති කල්හි ඉපදීම නැත. භවය නිරුද්ධ වීමෙන් ඉපදීම නිරුද්ධ වේ. ඒක උන්වහන්සේගේ අවබෝධය. ඒ අවබෝධය තුළින් විමසුවා, භවය නිරුද්ධ වෙන්නේ කොහොමද, නැතිවෙන්නේ කොහොමද? කර්ම සකස් වීම නැතිවෙන්න නම් බැඳෙන එක නැතිවෙන්න ඕන. උපාදාන නැති කල්හි භවය නැත. උපාදාන නිරුද්ධ වීමෙන් භවය නිරුද්ධ වේ. ඒක උන්වහන්සේට ඇතිවෙච්ච ඥාණයක් ඒක. ඊටපස්සෙ ඒ ඥාණ තුළින් කල්පනා කලා, උන්වහන්සේ ඒ බැඳීම, උපාදානය, ග්‍රහණය වෙලා යන ගතිය මේ, ඒ බැඳීම කොහොමද නැති වෙන්නේ. කුමක් නැති කල්හිද, කුමක් නිරුද්ධ වීමෙන්ද? තණ්හාව නිරුද්ධ වීමෙන්, තණ්හාව නැතිවීමෙන් බැඳීම නැති වේ. තණ්හාව නිරුද්ධ වීමෙන් බැඳීම නැත්නම් උපාදානය නිරුද්ධ වේ. ඊටපස්සෙ මේ තණ්හාව කොහොමද නැතිවෙන්නෙ, තණ්හාව කොහොමද නිරුද්ධ වෙන්නෙ? දැන් බලන්න අපි කියනවා සාමාන්‍යයෙන් ඔයාලා ආසාවක් නැතිව

ඉන්නකො, තණ්හාවක් නැතිව ඉන්නකො කියලා කියනවා. එහෙම කඩෙන් බඩුවක් අරන් අයින් කරනවා වගේ, ගෙදර තියෙන දෙයක් අතුගාලා දානවා වගේ එහෙම තෘෂ්ණාව නැති කරන්න බෑ. මේක වැඩපිළිවෙලක්. තණ්හාව නැතිවෙන්නේ, ආශාව නැතිවෙන්නේ ස්පර්ශය නැතිවීමෙන්, ස්පර්ශය නිරුද්ධ වීමෙන්. ඒක බුදුරජාණන් වහන්සේට ඇතිවුනු ඥාණයක්. ඊටපස්සෙ ඒ ඥාණය තුළින් කල්පනා කලා මේ ස්පර්ශය කියන එක නැතිවෙන්නෙ, නිරුද්ධ වෙන්නෙ කොහොමද? ආයතන හය නිරුද්ධ වෙන්න ඕන, නැතිවෙන්න ඕන. ආයතන හය කොහොමද නිරුද්ධ වෙන්නෙ, ආයතන හය කොහොමද නැතිවෙන්නෙ. නාමරූප නැතිවෙන්නෙ, නාමරූප නැති කල්හි ආයතන හය නැත. නාමරූප නිරුද්ධ වීමෙන් ආයතන හය නිරුද්ධ වේ. නාමරූප නිරුද්ධ වෙන්නෙ කොහොමද, නාමරූප නිරුද්ධ වෙන්න නම්, විඤ්ඤාණය නිරුද්ධ වෙන්න ඕන. විඤ්ඤාණය නැති කල්හි නාමරූප නැත. විඤ්ඤාණය නිරුද්ධ වීමෙන් නාමරූප නිරුද්ධ වේ. එතකොට මොකක්ද මේ විඤ්ඤාණ පැවැත්ම. මේ විඤ්ඤාණය තියෙන්නෙ සංස්කාරත් එක්ක. කාය සංකාර, වචී සංකාර, චිත්ත සංකාර. කාය සංකාර කියන්නෙ ආශ්වාස ප්‍රශ්වාසත් එක්ක කය බැඳිලා තියෙනවා. ඊළඟට විතක්ක, විචාරත් එක්ක වචනය බැඳිලා තියෙනවා. ඊටපස්සෙ සංඥා වේදනාත් එක්ක චිත්ත සංකාර බැඳිලා තියෙනවා. එතකොට මෙන්න මේ ටික තියෙන නිසා විඤ්ඤාණයක් හටගන්නවා. විඤ්ඤාණයක පැවැත්මක් තියෙනවා. ඒ සංස්කාර ඇති කල්හි විඤ්ඤාණය ඇත. සංස්කාර නිරුද්ධ වීමෙන් විඤ්ඤාණය නිරුද්ධ වේ. සංකාර නැතිවෙන්නෙ නෑ, සංස්කාර නැතිවෙන්න නම් චතුරාර්ය සත්‍යය අවබෝධ වෙන්න ඕන. අවිද්‍යාව නිරුද්ධ වෙන්න ඕන. අවිද්‍යාව නිරුද්ධ වීමෙන් සංස්කාර නිරුද්ධ වේ. අවිද්‍යාව නැතිවීමෙන් සංස්කාර නැතිවේ. අවිද්‍යායත්වෙව අසෙස විරාග නිරෝධා, සංකාර නිරෝධෝ, අවිද්‍යාව සම්පූර්ණයෙන්ම සර්ව සම්පූර්ණ ආකාරයෙන්ම නිරුද්ධ වීමෙන් සංස්කාර නිරුද්ධ වේ. සංකාර නිරෝධා විඤ්ඤාණ නිරෝධෝ, විඤ්ඤාණ නිරෝධා නාමරූප නිරෝධෝ, නාමරූප නිරෝධා සළායතන නිරෝධෝ, සළායතන නිරෝධා ඵස්ස නිරෝධෝ, ඵස්ස නිරෝධා වේදනා නිරෝධෝ, වේදනා නිරෝධා තණ්හා නිරෝධෝ, තණ්හා නිරෝධා උපාදාන නිරෝධෝ, උපාදාන නිරෝධා භව නිරෝධෝ, භව නිරෝධා ජාති නිරෝධෝ, ජාති නිරෝධා ජරා මරණං සෝකපරිදෙව දුක්ඛ දෝමනස්සුපායාසා නිරුජ්ඣන්ති. ඒව මේතස්ස කේවලස්ස දුක්ඛකන්ධස්ස නිරෝධෝ හෝති. මේ විදියට තමයි සියලු දුක්ඛකන්ධස්සය නිරුද්ධ වෙන්නෙ. නිරෝධො නිරෝධෝති භික්ඛවෙ පුබ්බේ

අනනුස්සුතේසු ධම්මේසු චක්ඛුං උදපාදි, ඥාණං උදපාදි, පඤ්ඤා උදපාදි, විජ්ජා උදපාදි, ආලෝකෝ උදපාදි. පෙර නොඇසූ විරූ ධර්මයන්හි මට ඥාණය පහළ වුනා මෙන්න මේ විදියටයි දුක නැති වෙන්නේ කියලා. ඒ පටිච්ච සමුප්පාද වැඩපිළිවෙල ඒ විදියට අවබෝධ වෙනකොට හටගැනීම නැතිවීම - ඔන්න හටගැනීම, නැතිවීම - ඕක තමයි උප්පාදවය. ඔය තමයි මේ පවතින ලෝකයේ තියෙන සියලූම සංස්කාර ධර්මයන්ගේ අනිත්‍යය ස්වභාවය අවබෝධ කරන විදිය. මේ විදියට අවබෝධ කරනකොට, වැටහෙනකොට, වැටහෙනකොට මේ බලන්න හිත කෙළෙස් වලින් මෑත් වෙලා, කෙළෙස් සංසිඳී සංසිඳී, නිරුද්ධ වෙවී නිරුද්ධ වෙවී සුණු විසුණු වෙලා යද්දී පින්වතුනි ඔය විදියට අවබෝධ වෙද්දී අවෙබෝධ වෙද්දී මහා බෝධිසත්ත්වයන්ගේ හිත ගොඩාක් සමාධිමත් වෙලා ගියා. හොඳට හිත වැඩුණා. ඒ හිත වැඩෙනකොට ඕන්න මොකද වුනේ, ආසවානංඛ්‍යාය ඛ්‍යාය චිත්තං අභිනිජ්ජාමිති, ඔය විදියට විමසනකොට විමසනකොට හිත නැම්ලාම තිබ්බෙ ආසවක්ෂය වීම පිණිස. සියලු කෙළෙස් නැසීම පිණිස. අයං දුක්ඛ, ඊටපස්සෙ සො ඉදං දුක්ඛන්ති යථාභූතං පජානාති, හොඳටම අවබෝධ වුනා මේක තමයි දුක. අයං දුක්ඛ සමුදයෝති, යථාභූතං පජානාති. මෙන්න දුක හටගන්න විදිය. අයං දුක්ඛ නිරෝධොති යථාභූතං, මෙන්න දුක නිරුද්ධ වෙන විදිය. අයං දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාති යථාභූතං පජානාති, මේ දුක නිරුද්ධ කරන්න මෙන්න කරන්න ඕන වැඩපිළිවෙල. ඇයි කරලනෙ, අවබෝධ වුනානෙ. ඊටපස්සෙ ඉමෙ ආසවා, මෙන්න කෙළෙස්, මේ අනවබෝධය නිසා තිබ්බ, මෙන්න කෙළෙස්. ආශ්‍රව. ඊටපස්සෙ මෙන්න ඉමේ ආසවාති යථාභූතං. අයං ආසව සමුදය, මෙන්න ආශ්‍රව හටගන්න විදිය. මෙන්න ආශ්‍රව නිරුද්ධ වෙන විදිය. මෙන්න ආශ්‍රව නිරුද්ධ වීම පිණිස කරන්න ඕන දේ. හොඳට හිතට තේරෙන්න ගත්තා. අවබෝධ වෙන්න ගත්තා. තස්ස ඒවං ජානතෝ, මේ විදියට දැනගන්නකොට, ඒවං පස්සතො, මේ විදියට දැකගන්නකොට, කාමසවාපි චිත්තං විමුච්ඡති, කාම ආශ්‍රව වලින් හිත නිදහස් වුනා. අර ලයිට් එකක් දාපු ගමන්, පහනක් දල්වපු ගමන් අඳුර නැතිවෙනවා වගේ. ඒක පෙර පසු කතාවක් නෑ, ආලෝකය දැමූ සැණින් ඒ මොහොතෙම අඳුර නැතිවුනා. කාමාසවාපි චිත්තං විමුච්ඡති, භවාසවාපි චිත්තං භව ආශ්‍රව, ඒ කියන්නෙ භවයේ සැරිසරා යන්න මූලික වුනු යම් කෙළෙස් ස්වභාවයන් තිබ්බා නම් ඔක්කොම නිරුද්ධ වෙලා ගියා. නිදහස් වෙලා ගියා. අවිජ්ජාසවාපි චිත්තං විමුච්ඡති, මෙතෙක් කාලයක් අනවබෝධයක් තිබ්බා නම් ඒ අනවබෝධය එහෙම්මම නැතිවෙලා ගියා. මේ විදියට හිත නිදහස් වුනා. විමුත්තස්මිං

විමුත්තමිති ඥාණං හෝති, හිත නිදහස් වෙච්ච ගමන්, නිදහස් වුනා කියලා ඥාණයක් පහළ වුනා. කීනා ජාති, ඉපදීම ක්ෂය වුනා. තුසිතං බ්‍රහ්මචරියං, මේ නිවන් මාර්ගය සම්පූර්ණ කලා. කතං කරණීයං, කළ යුතු දේ කලා, නාපරං ඉත්තත්තායති පජානාති, සසර දුකින් නිදහස් වෙන්න ආපහු කරන්න දෙයක් නෑ කියලා බුදුරජාණන් වහන්සේගේ හිතට පහළ වුනා. මේ මිහිමඩල කම්පා වෙන්න ගත්තා. වෙසක් සඳ බැසගෙන යන වෙලාවේ මේ මුළු ලෝකය පුරාම යම්තාක් පුෂ්පයෝ පිපෙන ගස් වේද, ඒ සියලු වෘක්ෂයන්ගේ පුෂ්පයෝ පිපිලා දසත සුවඳ හමාගෙන ගියා. සිසිල් සුළඟ හැමුවා. වන පොව්වන් කෙළිදෙලෙන් එහෙ මෙහෙ සැරිසරුවා. අසිරිය සිද්ධ වුනා. ආලෝකයක් පැතිරිලා ගියා, දෙවියන්ගේ දේවානුභාවය ඉක්මවා ගිය. ලෝකාන්තරික නිරය පවා ආලෝකමත් වුනා. මහා ආලෝකයක් පැතිරිලා ගියා. ලෝකෙට කලාතුරකින් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් පහල වුනා. අපේ දුක නිවන උත්තමයා පහළ වුනා. කෝටි ප්‍රකෝටි ගාණක් මහරහතන් වහන්සේලා සසර දුකින් නිදහස් වන්නේ යම් උත්තමයෙක් නිසා නම් ඒ මහා නිදුකාණන් වහන්සේ පහළ වුනා. ලෝකයක් නිදාගෙන ඉදිද්දි ලෝකයක් නිදහස් කරවන මුණිවරයා පහළ වුනා. මිහිමඩල සලිත වුනා. බුදුරජාණන් වහන්සේ උදාන ගාථා වදාළා. අනේක ජාති සංසාරං, නොයෙක් ජාති වල මා ඇවිද ගියා, අනේක ජාති සංසාරං සන්දාභිස්සං අනිහ්භිසං, නොයෙක් ජීවිත වල සැරිසැරුවා, ගහකාරකං ගවේසන්තෝ දුක්ඛා ජාති පුනප්පුනං, නැවත නැවත දුක හදලා දෙන වඩුවා හොයා හොයා හටියෙ මං, ගහකාරක දිට්ඨෝසී, මං දැක්කා ඒ කෙනා, මේ පටිච්ච සමුප්පාද වැඩපිළිවෙල, අවිද්‍යාව, මං දැක්කා එයා. පුනගේහන්නකාසී, මං නම් ආයෙ හදන්න දෙන්නෑ, සබ්බා තේපා සුඛාබග්ගා කියන්නෙ මේ සසරේ පරාල මං ආයෙ ගොඩගහන්න දෙන්නෑ, ගහකූඨං විසන්තිතං, ඒ අවිද්‍යාව නැමැති කැණිමඩලෙ ගහලා තිබ්බනෙ පරාල එකොළහක් ඒ ඔක්කෝම දැන් සුණුවිසුණු කරලා. විසංකාරගතං චිත්තං, සිත විසංකාර ගත වුනා. හිතේ දැන් පුඤ්ඤාභිසංස්කාර, අපුඤ්ඤාභිසංස්කාර, ආණිඡ්ජාභිසංස්කාර ඇතිවෙන්නෑ, විසංකාර ගත වුනා. තණ්හානං කයමජ්ජගාති, සියලු තෘෂ්ණා ක්ෂය වෙලා ගියා. මිහිමඩල කම්පාවෙලා ගියා. ඔන්න ඔය විදියට තමයි ලෝකෙට සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වුනේ. උන්වහන්සේ උතුම් අසිරිමත් සම්බුදු බව, විසි අසංඛෙය්‍ය කල්ප ලක්ෂයකට කලින් මව්න් කරට ගෙන පීනා පීනා මවගේ විවරණ ලබමින්, දෙවිවරුන්ගේ විවරණ ලබමින් සිතුවාද යම් බුදු බවක් සොළසා සංඛෙය්‍ය කල්ප

ලක්ෂයක් සිතෙනුත් වචනයෙනුත් පුරුදු කර කර ආවාද උතුම් සම්බුද්ධත්වයක් පිණිස පැතුමක් අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයකට පෙර දීපංකර පාද මූලයේ මඩ වගුරේ වැතිරී සිට දීපංකර ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ වදාළ වචනය ඉෂ්ට වුනා. සූවිසි බුදුවරුන්ගේ විවරණ ඉෂ්ට වුනා. සම්බුද්ධත්වය එහෙම එකක්. ඔබ බුදුවෙනවා, ඔබ බුදුවෙනවා කියලා හැම බුදු කෙනෙක්ගේම මුවෙන් කියපු වචනය එක මොහොතේ සඵල වුනා. මිහිමඬල සලිත වුනා. දරුවන් දන් දුන්න එකේ, ඇස් ගලවලා දන් දුන්න එකේ, අතපය කපද්දි ඉවසපු එකේ ඒ පින් බලය, ඒ ඥාණය, ඒ ශක්තිය, ඒ ප්‍රාර්ථනාව ඉෂ්ට වුනා. ලොව්තුරා සම්මා සම්බුදු කෙනෙක් පහළ වුනා. උන්වහන්සේ ඒ උතුම් සම්බුදු අසිරිය සිතේ රඳවාගෙන ඒ උතුම් ජයසිරි මහා බෝසෙවණේම තමා ලැබූ ලොව්තුරා සම්බුදු සුව විඳිමින් පුරා සතියක් ගත කලා. ඒ තමයි අසිරිමත් සම්බුදු බව. ඒ සම්බුදුරජාණන් වහන්සේ ඒ අසුනෙන් නැගිට පළවෙනි සිරිපා සඟල මිහිමඬලේ තබන හැටි අපි ඊළඟ දහම් වැඩසටහනින් කතා කරමු. අසිරිමත් පින්වතුනි මේ සොඳුරු ජීවිතය. සරණ යන්න යළි යළිත්, මගේ බුදුරජාණන් වහන්සේ. මුළු හදවතින්ම මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. ඔය උතුම් සම්බුදු වජිරාසනයෙන් නැගිටලා පළවෙනි සිරිපා තිබ්බෙ ලෝකයාට හිතසුව පිණිස. ආන්න ඒ සුවය ඔබ ලබාගන්න. මුළු හදවතින්ම ධර්මය සරණ යන්න. සංඝයා සරණ යන්න. උතුම් තිසරණය අපගේ ජීවිතයට එකම පිළිසරණ වේවා කියලා හිතන්න.

ඉතින් පින්වතුනි ඒ ආශිර්වාදය සැනසිල්ල සිතේ ඔබට ඒ සැනසිල්ල හිතේ රඳවමින් අද දහම් වැඩසටහනින් රැස්වුනු සියලු පුණ්‍ය ධර්මයන් අපි අනුමෝදන් කරමු ඉතින් අද දායකත්වය දැරුවේ පින්වත් කළ්‍යාණී වික්‍රමාරච්චි මහත්මිය. ඉතින් පළවෙනියෙන්ම අපි සෙත් පතමු මේ ලක්දෙරණට, ලෝකයට ව්‍යසනයක්ම වුනු මේ වසංගතය දුරු වේවා දුරින්ම දුරු වේවා. උතුම් බුද්ධානුභාවයෙන්, එදා වජිරාසනයේ සව්කෙළෙසුන් නසා පුරා පාරමී දසක් වූ ඒ පාරමී ධර්මයන් පුරලා යම්කිසි සම්බුද්ධත්වයක් පැතුවා නම් ඒ සම්බුද්ධත්වය ඉටු වූ බව සත්‍යයක්. සව් කෙළෙසුන් නැසූ බව සත්‍යයක්. ලොවට සම්බුදු කෙනෙක් පහළ වූ බව සත්‍යයක්. ඒ සත්‍යානුභාවයෙන් මේ වසංගත රෝගාදිය දුරු වේවා. මානව වර්ගයාට සෙත වේවා. අපේ ලක්දෙරණ සුරැකේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම අපි මේ පින් අනුමෝදන් කරමු සියලු දෙවියන්ට. සියලු දෙවි දේවතාවුන් වහන්සේලා මේපින් අනුමෝදන් වෙත්වා. අනුමෝදන් වෙත්වා. අනුමෝදන් වෙලා අපේ මේ ලක්දෙරණත් සියලු දෙනාත්

දෙවියෝ ආරක්ෂා කරත්වා කියලා පින් පමුණුවමු. ඒ වගේම පින්වතුනි මේ පින් අනුමෝදන් වෙත්වා පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට, ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි ඔය විදියට සම්බුදු අසිරියක් ගැන අපි දන්නෙ. මේ ත්‍රිවිද්‍යාව කියන එක ඔය විදයට විග්‍රහ කරගන්න දන්නෙ අපි ඒ නිසා. නැත්නම් අපි වචන මාත්‍රයකින් පාඩම් කරගත්ත අය. ඒ උතුම් සම්බුදු බව කොහොමද සිදුවුනේ කියලා අපි තේරුම් ගත්තෙ ඒ නිසා. ඒ නිසා පින්වත්නි පරම පූජනීය, ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. ඒ වාගේම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම සඟරුවනට, ඒ වගේම සිල් මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් අනුමෝදන් වී ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම විශේෂයෙන් එංගලන්තයේ මහමෙව්නා අනගාරිකා භාවනා අසපුවේ වැඩ සිටි, නිරාශා මෙහෙණින් වහන්සේට ඒකාන්තයෙන් මේ පින් බලයෙන් නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා, රෝග පීඩා ආදිය දුරින්ම දුරු වෙලා, සියලු යහපත නිරෝගී සුව, සත්පුරුෂ ඇසුර, ධර්මාවබෝධය සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම විශේෂයෙන් මියපරලොව ගිය ජී. රූපසිංහ මෑණියන්ට, ඒ වගේම සයිමන් පෙරේරා පියාණන්ට සහ ජී. වික්‍රමාරච්චි පියාණන්ට, මේ පින් අනුමෝදන් කරමු. ඒ මියපරලොව ගිය සියලුම ඥාතීන්ට පරලොව සැපය පිණිස මේ පින් උපකාරී වේවා. ඒ වගේම සුජීවත්ව සිටින වික්‍රමාරච්චි මෑණියන් ඇතුළු පවුලේ සියලුම ඥාතීන්ට, කළ්‍යානී වික්‍රමාරච්චි මහත්මිය ඇතුළු ඒ සියලූ දෙනාට, ඒ වගේම ඒෂාන් පුතණුවන්ගේ අධ්‍යාපන කටයුතු සාර්ථක වීම පිණිස මේ පින් අනුමෝදන් වේවා. මේ පින්වතුන් සියලුදෙනාට නිදුක් නිරෝගී සුවපත් භාවය, උතුම් සම්බුද්ධත්වයේ ආනුභාවයෙන් සෙත් වේවා. ඒ වගේම මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට, ඔබ කාටත් ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ ධර්මය අහන සියලු දෙනාට කාර්ය මණ්ඩලයේ සියලුදෙනාට මේ රූපවාහිනියත් ගුවන්විදුලියත් පවත්වාගෙන යාම සඳහා උපකාර කරන සියලු දෙනාට පින් අනුමෝදන් වේවා. අපි සියලු දෙනාට උතුම් වජිරාසනයේ සම්මා සම්බුදු කෙනෙක් පහළ වෙලා ලෝකෙට යම් පිහිටක් දහමින් සළසනවාද, ඒ පිහිට පිළිසරණ ලබාගැනීමට වාසනාව උදාවේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=w_kv8Xw1i6c&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=19

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, ඔබට භාග්‍යය ලැබුනා අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් ඔබේ ජීවිතයට අපි සරණ ගිය ශාස්තෘ තථාගත අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ විවරණ ගත්තු සසරත් වජිරාසනයේ සම්බුදු වෙන මොහොත දක්වාමත් ඔබට ශ්‍රවණය කරන්න වාසනාව ලැබුනා. ලොව්තුරා සම්මා සම්බුදු කෙනෙක් ගැන කවර කතාද බෝධිසත්ත්ව ජීවිතය පවා පරම පූජනීයයි කියලා. බෝධිසත්ත්ව ජීවිතය පවා ආනුභාවසම්පන්නයි කියලා මහා පින් පිරෙන බව, ඒ බෝධිසත්ත්ව ජීවිතේට පැහැදුනත් බොහෝ පින් පිරෙන බව ඔබට ඒ ධර්ම දේශනා අහනකොට හිතෙන්න ඇති. බෝධිසත්ත්වයන් වහන්සේ සමඟ පවා සසරේ හිටපු අයට ගෞතම බුද්ධ ශාසනයේ අමා මහ නිවන් ලැබුනා. ඒකයි සත්පුරුෂයො සමඟ ඉන්න ඕන කියන්නෙ. ඒකයි සත්පුරුෂයෝ ඇසුරු කරන්න ඕන කියන්නෙ. ඒකයි සත්පුරුෂයොත් එක්ක යාළුවෙන්න ඕන කියන්නෙ. සත්පුරුෂයන්ගේ ධර්මය දැනගත්තු කෙනාට නරකක් වෙන්නෑ. නිවන් දකිනවා. ඉතින් අදත් අසිරිමත් සම්බුදු වරුණ අහන්න ඔබ මේ අවස්ථාව හදාගන්නේ මේ ධර්ම දේශනාව ශ්‍රද්ධා රූපවාහිනියෙනුත්, ලක්විරු ගුවන්විදුලියෙනුත් විකාශනය කරවන්න දායකත්වය දරන්නේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් ලලිත් ඕපාත මහත්මයා සහ සිදත්ත රණතුංග මහත්මයා යන මිතුරු දෙපළ විසින් අද මේ

ධර්ම දානය සිද්ධ කරගන්නවා. ඉතින් විශාල පිනක් තමන්ගේ ජීවිතයට රැස් වෙනවා ධර්ම දානය තුළින්. ඒ ගැන හිතලා අප්‍රමාණ සන්තෝෂයට පත්වෙන්න ඕන. අපි මීට කලින් වැඩසටහනේ කතා කලේ අසිරිමත් සම්බුද්ධත්වය. එතකොට හොඳට නුවණින් විමසන කෙනෙකුට හොඳට තේරෙන්න ඇති, ඒ තමයි කොහොමද භාග්‍යවතුන් වහන්සේගේ හිත නිකෙළෙස් වෙලා යන්නේ කියලා. එතකොට බුදුරජාණන් වහන්සේ ඒ ස්වභාවය දේශනා කලා. මේ විදියටයි වුනේ කියලා. එතකොට අපිට ඒ ලොව්තුරා සම්මා සම්බුදු බවට පත්වෙච්චි උත්තමයාගේ ප්‍රකාශය හැර වෙනත් ප්‍රකාශ තවත් කුමටද. ඉතින් ලොව්තුරා සම්මා සම්බුද්ධත්වය කියන එක පින්වතුනි මේ මිහිමඬල සලිත වෙලා යන, ලෝකාන්තරික නිරයටත් එහා ආලෝකය පැතිරී යන මහා ආනුභාව සම්පන්න අසිරියක් ලෝකෙ සිද්ධ වෙන දෙයක්. පින්වතුනි බුදුරජාණන් වහන්සේ නමක් යම් ප්‍රකාශයක් කළොත් මේ ඉරහඳ නැතිවෙලා ගියත්, මහපොළොව අනිත් පැත්තට පෙරළිලා ගියත්, සාගරයේ ජලය සිඳිලා ගියත්, ඒවා වෙනස් වෙන්න පුලුවන්. නමුත් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකගේ ප්‍රකාශය වෙනස් වෙන් නෑ. ඒ නිසා තමයි බුදුරජාණන් වහන්සේලාට තථාගත කියන්නෙ. එතකොට එක බුදුරජාණන් වහන්සේ නමකගේ ප්‍රකාශය එහෙම වෙනස් වෙන් නැත්නම් සූවිසි බුදුවරුන්ගේම, දීපංකර සම්මා සම්බුදුරජාණන් වහන්සේ වදාළා මේ සුමේධ තාපසයින් වහන්සේ අනාගතයේ ගෞතම නමින් සම්බුදු වෙනවා කියලා. ඊළඟට පහළ වෙච්ච බුදුරජාණන් වහන්සේලා විසිතුන් නමම වදාළා. එතකොට, සෑම බුදුරජාණන් වහන්සේගේ නමකගේ මුවින්ම වදාළා නම් සම්බුදු වෙනවා, සම්බුදු වෙනවා, සම්බුදු වෙනවා කියලා ඒ සියලු බුදුවරුන්ගේ වචනය එක මොහොතේ ඉෂ්ට වෙනවා කියලා යමක් ඇත්ද, බුදුරජාණන් වහන්සේලා සියලු දෙනාගේම වචනය එක මොහොතින් ඉෂ්ට වෙනවා කියලා යමක් ඇත්ද, දස පාරමී ධර්මයන් පුර පුරා ප්‍රාර්ථනා කලේ ලොව්තුරා සම්බුදු බව, අතපය කපද්දින් ඉවසා ඉවසා ප්‍රාර්ථනා කලේ සම්බුදු බව, මෙත් සිත වඩමින් ප්‍රාර්ථනා කලේ සම්බුදු බව, අනන්ත අපරිමාණ ජීවිත, ගිහිජීවිතේ අත්හැර පැවිදි වෙමින් ප්‍රාර්ථනා කලේ සම්බුදු බව. එතකොට තමන්ගේ දරුවන් ගණන් කළ නොහැකි තරම් අසංඛෙය්‍ය අප්‍රමාණ ප්‍රමාණයක් තමන්ගේ දරුවන් දන් දිදී, ප්‍රිය අඹුව දන් දිදී ප්‍රාර්ථනා කලේ ලොව්තුරා සම්බුදු බව. ඒ එච්චර අනන්ත අපරිමාණ කුසලස්කන්ධයක් එක මොහොතින් ඉෂ්ට වෙනවා කියලා යමක් ඇත්ද, ඒ සම්බුදු බව ඒකාන්තයෙන් ආශ්චර්යයියි, අද්භූතයි. ඊළඟට ඒ ගෞතම සම්මා

සම්බුදුරජාණන් වහන්සේගෙන් පිහිට ලබන අසූ මහා ශ්‍රාවකයන් ඇතුළු සකල රහතන් වහන්සේලා, මාර්ග ඵල ලබන දෙවියන්, බඹුන්, මිනිසුන් ඒ සියලුදෙනාගෙම ප්‍රාර්ථනා සමෘද්ධිමත් වෙන්නෙ බුදු කෙනෙක් පහළ වුනොත්. ඒ නිසා අසංඛෙය්‍ය කල්ප ගාණක් පෙරුම් පිරූ අග්‍රශ්‍රාවකයන් වහන්සේලාගේ, කල්ප ලක්ෂයක් පෙරුම් පිරූ අසූ මහා ශ්‍රාවකයන් වහන්සේලාගේ, අනන්ත අපරිමාණ පින් පිරූ ශ්‍රාවකයන් වහන්සේලාගේ ඒ පින් ප්‍රාර්ථනාව සඵල වෙන ශාස්තෲන් වහන්සේ පහළ වෙන මොහොත ඒ උතුම් සම්බුද්ධත්වය සිද්ධ වෙන මොහොත, ඒකාන්තයෙන් ආශ්චර්‍ය්‍යයි, අද්භූත සිද්ධියක් ඒක. ලොව්තුරා සම්බුදු බව කියන එක. ඉතින් උණ්වහන්සේ ලොව්තුරා සම්මා සම්බුදු බවට පැමිණ පුරා සතියක් ඒ ජයසිරිමහා බෝ සෙවණේ ඒ සම්බුදු සමාපත්තිවලට සමවදිමින් වාසය කලා. මොකද මේ ජයසිරිමහා බෝ සෙවණේ වජිරාසනයේ උතුම් සම්බුද්ධත්වය සමඟමයි භාග්‍යවතුන් වහන්සේට දස බල ඥාණ පහළ වෙන්නෙ. ඒ මොහොතෙම පහළ වෙනවා. බුදුවුනාට පස්සෙ කරන්න කියලා දෙයක් නෑ. සම්බුදු වෙනකොටම සියල්ල පහළවෙනවා. බුදුරජාණන් වහන්සේලාට තියෙනවා ෂඩ්අසාධාරණ ඥාණ, ඒ සියල්ල ඒ මොහොතේ පහළ වෙනවා. බුදුරජාණන් වහන්සේලා ලෝකෙ හඳුනාගන්නේ නව අරහාදී බුදුගුණ වලින්. ඒ නවඅරහාදී බුදුගුණ වලින් සම්පූර්ණයෙන් පරිපූර්ණ වෙනවා ඒ මොහොතේම. ඊළඟට බුදුරජාණන් වහන්සේලාට තවත් තියෙනවා නම් අනේකවිධ සම්මා සම්බුදු ඥාණ, ඒ වගේම මහා කරුණා සමාපත්ති ඥාණ, උතුම් බුදු ඇස මේ සියල්ලම බෝ සෙවණේදී පහළ වෙනවා. ඉතින් ඒ උතුම් සියලු අසිරිමත් ආනුභාවසම්පන්න ඥාණ සමුදාය උපදවාගත්ත අපගේ ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේම සම්බුදු බව නොදැනගෙන තියෙද්දින් උන්වහන්සේ සම්බුදු බවට පත්වෙලා, උතුම් වජිරාසනය මත ජයසිරි මහා බෝසෙවණේ පුරා සතියක් සමාපත්තියෙන් වැඩ සිටියා. ඒ පුරා සතිය තුළ උන්වහන්සේගේ සමාපත්තියත්, ඊළඟට පන්සාලික් වසක් පුරා භාග්‍යවතුන් වහන්සේ කළයුතු දේවලුත් ඒ වගේම ගෞතම බුද්ධ ශාසනය පවතින තාක් - අපි හිතමු අවුරුදු පන්දාහක් පවතිනවා කියලා - ඒ තාක් මේ බුද්ධ ශාසනයේ සිදුවන සියල්ලක් උන්වහන්සේ ඒ ජයසිරිමහා බෝ සෙවණේ පළවෙනි සතිය තුළම දැක්කා. බුදුරජාණන් වහන්සේ බෝ සෙවණෙන් නැගිට්ටින්නේ බුදු කෙනෙක් විසින් කළ යුතු සියලු බුද්ධ කෘත්‍යය අවබෝධ කරගෙන. අහවල් කාලයේ අහවල් තැන අහවල් විදියට අහවල් විදියට වෙනවා කියලා. මේ බුද්ධ ශාසනය පවතිනතුරු. ඊටපස්සෙ තමයි ඒ සියල්ල හිමීට හිමීට භාග්‍යවතුන්

වහන්සේ ක්‍රියාත්මක වෙනවා. ඉතින් ඒ නිසා මේ පළවෙනි සතිය බෝ සෙවණේ ගත කලා කියා යමක් ඇත්ද, ඒ සම්බුදුරජාණන් වහන්සේලාගේ සියලු බුද්ධ කෘත්‍යය උන්වහන්සේලාගේ සමාපත්ති සුවයේ තියෙනවා. ඊළඟට උන්වහන්සේලා අවබෝධ කරපු ධර්මය අනේකවාරයක් උන්වහන්සේලා මෙනෙහි කරනවා. ඒ සම්බුදු බව ගැන හිතලා අප්‍රමාණ සන්තෝෂයකට පත්වෙනවා. අප්‍රමාණ නිකෙලෙස් ප්‍රීතියකට පත්වෙනවා. ඉතින් පින්වත්නි, ඊළඟට උන්වහන්සේ පළවෙනි සතියෙන් නැගිටලා, දැන් සියලු දෙවියන් බඹුන් ආපහු එක්රැස් වුනා. දැන් සිතාගන්න බෑ සමහර අයට මොකක්ද දැන් වුනේ, බුද්ධත්වයට පත්වුනාද, නැද්ද, මොකද වුනේ හිතාගන්න බෑ. ඒ මොහොතේ මගේ බුදුරජාණන් වහන්සේ ආකාශයට පැන නැගිලා ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේලාට පමණක් ආවේණික වූ යමක මහා ප්‍රාතිහාර්යය පානවා. යමක මහා ප්‍රාතිහාර්යය, ශරීරයෙන් ගිනිදැල් විහිදෙන, ජල දහරා විහිදෙන, යමක මහා ප්‍රාතිහාර්යය ඥාණය. අසිරිමත් ඥාණයක් අපි ඉදිරියට ෂඩ්අසාධාරණ ඥාණ ඉගෙන ගන්න වෙලාවෙ අපි ඒ කරුණු ඉගෙන ගනිමු. ඊටපස්සේ ඒ බුදුරජාණන් වහන්සේ ඊසාන දිශාවට වෙන්න, ඉතුරු සියලු දෙවියන් බඹුන්ගේ සැක දුරු වුනා. සියලු දෙවියන් බඹුන් අප්‍රමාණ ප්‍රීතිඝෝෂා පැවැත්වූවා. බුදුරජාණන් වහන්සේට අනේකවිධ වන්දනා පූජා කලා. ලෝකෙට සම්බුදු කෙනෙක් පහළ වුනා කියලා. ඊසාන දිශාවෙ, බුදුරජාණන් වහන්සේ ඊසාන දිශාවෙ තිබ්බ පොඩි ගලක් වගේ ගල් පතුරක් වගේ තැනක් තිබුනා. ඒ තැනට වැඩලා, ඊසාන දිශාවේ ඉඳලා ජයසිරි මහා බෝධීන් වහන්සේ දෙස සම්බුද්ධත්වයට සෙවණ සැලසූ උතුම් බෝධීන් වහන්සේට කෘතගුණ සැළකීමෙහි ලා අනිමිස ලෝචන පූජාව නම් වූ මහත් උපහාරයක් කලා. ඒ නෙත් සඟල විවර කරලා බෝධීන් වහන්සේ දෙස බලාගෙන සිටිනවා. එතකොට උන්වහන්සේගෙ ඉන්ද්‍රනීල මාණික්‍යයක් බඳු වූ නිල්වන් නෙත් සඟලින් ලෝකයේ කරුණා දහර වෑහෙන, කරුණාවෙන් ලෝකය බලන, ඒ බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු නේත්‍රයෙන් සාරාසංඛෙය්‍ය කල්ප ලක්ෂයක් පුරාවට රවලා බලලා නැති, තරහෙන් බලලා නැති, ක්‍රෝධයෙන් බලලා නැති, ඕපාදූප හොයන අදහසින් බලලා නැති, පින් බලයට අනුව හැදිච්චි නෙත් සඟල, මෛත්‍රියට අනුව හැදිච්චි නෙත් සඟල, ඒ නෙත් සඟලෙන් බුදුරජාණන් වහන්සේ බෝධීන් වහන්සේ දෙස පුරා සතියක් බලාගෙන හිටියා. කෘතගුණ. කෙළෙහිගුණ, බුදුරජාණන් වහන්සේ පවා තමන්ට පිට දුන් බෝධීන් වහන්සේට කෘතගුණ සැලකුවා. ඉතින් එහෙමනම් මේ අජීවි වස්තුවක්. එතකොට

පින්වතුනි එහෙනම් තේරුම් ගන්න මේ බුද්ධ ශාසනයේ ධර්මය අවබෝධ කරන්න නම් කෙළෙහිගුණය ඕනමයි. තමන්ට පිහිටක් ලැබිච්ච තැනට තමන්ගේ ගෞරවය ඊළඟට ඒක සිහි කරන බව ඕනමයි. කෙළෙහිගුණය. කෙළෙහිගුණය නැතිව මේ බුද්ධ ශාසනයේ දියුණුවක් නම් ලබන්න බෑ. ඒ කෙළෙහිගුණය ඇති බව නම් වූ යමක් ඇත්ද, ඒක තමයි සත්පුරුෂයන්ගේ ධර්මය. ඒකෙන් තමයි සත්පුරුෂ භූමියේ තමන් ඉන්නවා කියලා තේරුම් ගන්නෙ. කෙළෙහිගුණ තියෙනවා. තමන්ට උපකාර කරපු උදව් කරපු, තමන්ට යම්කිසි වචනෙකින් හරි පිහිටක් වෙච්චි කෙනෙක් ඉන්නවා නම්, එයා කෙරෙහි තමන්ගේ ගෞරවය, ඒ ගුණය සිහි කරන බව. කෙළෙහිගුණ අප්‍රමාණව මේ බුද්ධ ශාසනයට අවශ්‍ය විශේෂ ගුණයක්. ඒකෙන් තමයි තමන් සත්පුරුෂයෙක්ද නැතිද කියලා හොයාගන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ පන්සාලිස් වසක් පුරාවට සම්බුදු නුවණ විහිදුවන්න, මේ ලෝක සත්ත්වයන් දෙස බලන්න තිබුණු නෙත් සඟල බෝධීන් වහන්සේට යොමුකලා, මසැසින් එතරම් බලාගෙන ඉඳලා නෑ පින්වතුනි කිසිම දෙයක් ගැන බෝධීන් වහන්සේ තරම්. අවුරුදු පන්දහසක් කල් ගෞතම බුද්ධ ශාසනය පවතිනතුරු ජයසිරි මහා බෝ සෙවණින්, බෝධීන් වහන්සේගෙන් පිහිට පිළිසරණ සදාගන්න, බුදුරජාණන් වහන්සේ ඒ උතුම් නෙත් සඟලින් ඒ බුද්ධානුභාවය බෝධීන් වහන්සේගෙ ගැබ් කලා කියලා කිව්වොත් ඒකෙ වරදක් නෑ. උන්වහන්සේ අහසේ තරු පරයා ඇස් දන් දුන්නේ මාගේ ඇස් ඉදිරියේ කාටවත් දුකක් නොවේවා කියලා. ඉතින් ඒ නෙත් සඟලෙන් බෝධීන් වහන්සේ දිහා බලපු නිසාදෝ මන්දා, අදටත් මිනිස්සුන්ට දුක් කරදර ආපු ගමන් බෝධීන් වහන්සේ ළඟටමයි දුවගෙන ගිහිල්ලා දුක කියලා පූජා පවත්වලා පිහිට සළසගන්නෙ. බෝධීන් වහන්සේගෙන් ගොඩාක් අයගේ දුක් දුරු වෙනවා. ඉතින් උන්වහන්සේ එතනින් වැඩම කරලා සක්මන් කලා. අදටත් දඹදිව වජිරාසනය ළඟ ඒ සක්මන් කරපු උතුම් භූමිය තියෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ රුවන්ගෙයි වැඩ හිටියා පුරා සතියක් පටිච්ච සමුප්පාදය අනුලෝම, පටිලෝම වශයෙන් මෙනෙහි කලා. පින්වතුනි පටිච්ච සමුප්පාදය බුදුරජාණන් වහන්සේ සම්බුද්ධත්වයට පත්වෙලා බෝධීන් වහන්සේගේ බෝධි මූලයෙන් වඩින්න කලින් සතිස් කෝටි සිය දහස් වාරයක්, ඒ කියන්නෙ තිස් හත් කෝටියේ ඒවා ලක්ෂයක්, ලක්ෂ තිස් හත් කෝටියක් බුදුරජාණන් වහන්සේ පටිච්ච සමුප්පාදය අනුලෝම ප්‍රතිලෝම විදියට මෙනෙහි කළා කියනවා. අවිජ්ජා පච්චයා සංකාරා, සංකාර පච්චයා විඤ්ඤාණ ආදී වශයෙන්. ඒ නිසා පටිච්ච සමුප්පාදය විග්‍රහ කරනකොට, පටිච්ච සමුප්පාදය ඉගෙන ගන්නකොට

හරිම පරිස්සමින් පින්වතුනි ඉගෙන ගන්න ඕන. මොකද බුදුරජාණන් වහන්සේ ඒ පටිච්ච සමුප්පාද ක්‍රියාවලිය වදාළේ ලක්ෂ තිස් හත් කෝටියක්, ලක්ෂයේ ඒවා තිස්හත් කෝටි වාරයක් විමසලා තමයි දේශනා කලේ අවිජ්ජා පච්චයා සංකාරා කියලා. ඒක කිසි කෙනෙකුට වෙනස් කරන්න හිතන්න වත් බෑ. ඒ තමන්ට හිතෙන විදියට අර්ථ කථන දෙන්න හිතන්නවත් බෑ. ඒ තරම් ඒ පටිච්ච සමුප්පාදය බුදුරජාණන් වහන්සේ නිරවුල්වමයි දේශනා කලේ. පටිච්ච සමුප්පාදය අවබෝධ නොවිච්ච නිසාමයි සංසාරයේ මේ තරම් සත්ත්වයා යන්නෙ. ඒ නිසා ඒ පටිච්ච සමුප්පාදය බොහෝම නිරවුල්. ඒකයි ශ්‍රද්ධාව ඉස්සෙල්ලා පිහිටුවා ගන්න කියන්නෙ පින්වතුනි. සැදැහැ සිත ඉස්සෙල්ලාම පිහිටුවා ගන්න ඕන. ඒ ශ්‍රද්ධාවන්තයාට බුදුරජාණන් වහන්සේ ඉක්මවා යන්න බෑ, ශ්‍රද්ධාවන්තයාට ඒ ධර්මය ඉක්මවා යන්න බෑ. ඒ ශ්‍රද්ධාවන්තයාට ශ්‍රාවකත්වයේ ඉන්න ඕන. එතකොට ඒ නිසා ඔහු ධර්මයත් එක්ක සෙල්ලම් කරන් නෑ. ඒ නිසා මේ තිසරණය කියන එක හරී උපකාර එකක්. ඉතින් හතරවෙනි සතිය උන්වහන්සේ අනුලෝම පටිලෝම වශයෙන් නැවතත් පටිච්ච සමුප්පාදය මෙනෙහි කලා. ඉතින් සමහරු කියනවා අභිධර්මය මෙනෙහි කලා කියලා. කෙසේ නමුත් බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී දේහයෙන් අනේක වූ වර්ණ ධාතු රශ්මිධාරා විදියට විහිදෙන්න ගත්තා. ඊටපස්සෙ පින්වතුනි බුදුරජාණන් වහන්සේ අජපාල නුග රුක්ෂය මුලට වැඩියා. මම හිතන විදියට අදටත් තියෙනවා නේරංජනා නදියෙන් එහො පැත්තෙ අජපාල නුග රුක්ෂය කියලා විශාල නුගයක්. පින්වතුනි ඒක විශාලයි. කොච්චර විශාලයිද කියනවා නම් ඒ නුගරුකේ කඳ තුන් පැත්තකට මුල් තුනක් බෙදිලා ඒ බෙදිච්ච මුල් තුන ඇතුල කාමරයක් වගේ. එතන එක්කෙනෙකුට භාවනා කරගෙන ඉන්න පුලුවන්. අදටත් තියෙනවා සුවිශාල වෘක්ෂයක්. නේරංජනා නදිය, පල්ගු නදිය අයිනෙ. එතකොට ඒ අජපාල නුගරුක්ෂය මුල උන්වහන්සේ වැඩහිටියා. ඒ වැඩහිට ඉන්නකොට තමයි මාරයා ඇවිල්ලා බුදුරජාණන් වහන්සේට කියාහිටින්නෙ, ඔබ වහන්සේ දැන් තනියෙන් සම්බුදු වුනා නම්, මේ බණ කිය කියා යන්න එපා. එතකොට කොච්චර ධර්මය දේශනා කරනවාට විරුද්ධයිද. තමන් අවබෝධ කරගත්ත එක අවබෝධ කරගෙන පාඩුවෙ ඉන්න, අනිත් අයට කියන්න යන්න එපා. ඔබ වහන්සේ පුලුවන්නම් පිරිනිවන් පාන්න. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ වදාළා මගේ භික්ෂු භික්ෂුණී, උපාසක, උපාසිකා කියන සිව්වනක් පිරිස ව්‍යක්ත, විශාරද, ධර්මධර, විනයධර, සුපේෂල, ශික්ෂාකාමී, පරවාද මතනය කරන්න පුලුවන් තරම් දහම් තේජසකින් යුක්ත වෙනතාක් කල්

තථාගතයන් වහන්සේ පිරිනිවන් පාන් නෑ කියලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඊළඟට එතනදින් තමයි මාර දූතිකාවො තණ්හා, අරති, රඟා. මේ විදියට ඒ මාරදූතිකාවො තුන්දෙනා ඇවිල්ලා බුදුරජාණන් වහන්සේ ළඟ අනේක විප්‍රකාර කරලා රාගයෙන් පොළොඹොවා ගන්න හදන්නෙ එතන. බුදුරජාණන් වහන්සේ ඔවුන් දුටුවා කියන්නෙ වැහැරී ගිය වැදිරියන් වගෙයි. රාග බන්ධනයෙන්, රාග පාසයෙන්, රාග මලපුඩුවෙන් බුදුරජාණන් වහන්සේලාව අල්ලන්න බෑ. බුදුරජාණන් වහන්සේ රාගය ප්‍රහාණය කලා, ද්වේෂය ප්‍රහාණය කලා. මෝහය ප්‍රහාණය කලා. බුදුරජාණන් වහන්සේගේ අරහං ගුණය ඉගෙන ගන්න වෙලාවේ අපි ඒ විස්තර ඉගෙන ගනිමු. ඉතින් ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ එතනින් වැඩම කරලා මුචලින්ද කියන විලට ගියා. එතකොට ඒ මුචලින්ද කියන විලට වැඩපු වෙලාවෙ අදටත් මුචලින්ද ගාම කියලා ඉන්දියාවේ බෝධීන් වහන්සේ ළඟ ඉඳලා හූවක දුරින් තියෙනවා. ඒ මුචලින්ද ගාමයේ විශාල පොකුණක් තියෙනවා. ඉතින් ඒ පොකුණ ළඟට භාග්‍යවතුන් වහන්සේ වඩින වෙලාවෙ මොරසූරන මහා වැස්සක් ඇද හැලුනා. ඒ පොකුණට අධිගෘහිත වෙලා හිටපු නාගරාජයා බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා බුදුරජාණන් වහන්සේ දුටු පමණින්ම, සසරේ සංස්කාර තියෙනවානම් බුදුවරුන්ට උපස්ථාන කරන්න, සංසාරේ පින් තියෙන්න ඕන. ඔහුට හිතුනා මට රත්තරන් රුවන් මාළිගාවක් මවන්න පුලුවන්. නමුත් මට මේ ලැබුණු කයක් තියෙනවා. මගේ මේ කයෙන් ආයෙ මේ වගේ දුක්ඛිත කයක් නොලැබීම පිණිස පින් කරගන්න ඕන. ඇයි සාමාන්‍යයෙන් නාගයා නාග කයෙන් සතුටට පත් වෙන් නෑ, දුකට පත්වෙලා ඉන්නෙ. එතකොට කල්පනා කලා මං මේ වාගේ කයක් නොලබන්න පින් කරගන්න ඕන කියලා නාග දරණ, භාග්‍යවතුන් වහන්සේගේ වටේ සීතල නොඑන විදියට දරණ ලාගෙන මහා වැස්සෙන් පුරා සතියක් පෙණ ගොබය ඉහළට ඔසවාගෙන ආරක්ෂා කලා නාග දරණින් සුවඳ විහිදෙන්න සැලැස්වුවා. ඉතින් මේ විදියට, හත්වෙනි දවසේ බුදුරජාණන් වහන්සේ ඉදිරියේ වන්දනා කරලා දිව්‍ය රාජයෙක් විදියට පෙනී ඉඳලා වන්දනා කරලා අතුරුදහන් වෙලා ගියා. ආයෙ ඒ නාගයාට ඒ නාග කයෙන් දුක ඉපදිලා නෑ. එයා මහා සෙන්පතියෙක් බවට පත්වුනා. ආනුභාව සම්පන්න දිව්‍ය රාජයෙක් බවට පත්වුනා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ හත්වෙනි සතිය කිරිපුලු නුගරුක මුල වැඩ සිටිද්දී තමයි හත්වෙනි සතිය, බලන්න දවස් හතේ ඒවා හතක් කියන්නෙ හතළිස් නවයක්. එතකොට ඒ හතළිස් නවයටම එක දවසට එක බත්පිඩ ගානෙ තමයි දිරුවේ. ඒ නිසා තමයි කිරිපිඩු වළඳනකොට ගුලි හතලිස්

නවයක් කරලා වැළඳුවෙ. ඊටපස්සෙ දැන් දවස් හත ඉවරයි. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ කල්පනා කලා මට දැන් මුව දෝවනය කරන්න ඇත්නම් කියලා. මුව දෝවනය කරන්න ඇත්නම් කියලා හිතනකොටම ශක්‍ර දේවේන්ද්‍රයා භාග්‍යවතුන් වහන්සේට දැහැටි අරලු පූජා කලා. මුව දෝවනා පැන් පූජා කලා. ඒක කලේ සක්දෙවිඳු. ඊළඟට භාග්‍යවතුන් වහන්සේට ආහාර වළඳන්න කාලය යෙදෙනකොට, එතන හිටපු දෙවි කෙනෙක් ඒ ළඟින් වෙළඳාවේ ගිය තපස්සුභල්ලික ඒ වෙළෙඳ දෙබෑයන්ගේ වාහන කරත්ත ඍද්ධියෙන් නතර කලා. ඇයි කියලා අහනකොට ඒ දේවතාවුන් වහන්සේ පෙනී ඉඳලා කිව්වා, මහා මුණිවරයෙක් වැඩ ඉන්නවා. ආහාරයක් පූජා කරන්න කියලා. ඔබලාට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතියි. ඔවුන්ගේ කලින් ජීවිතේ මව් ඒ. ඊටපස්සෙ විළඳ මීපිඩු, හාල් බැදලා කොටලා පිටි වලින් මී පැණි දාලා හදපු අග්ගලා වගේ ආහාරයක්. ඉතින් පූජා කළා බුදුරජාණන් වහන්සේට, දැන් මෙහෙම භාජනයකින් ගෙනාවා. බුදුරජාණන් වහන්සේට දැන් කුමකට ගන්නවාද කියලා සිතිවිල්ලක් නෑ. ඇයි ඝටීකාර බ්‍රහ්මරාජයා දුන්නු පාත්තරයත් නෑ. රන්තලියත් උඩුගම් බලා ගියා. ඊටපස්සෙ මං කුමකින්ද වළඳන්නේ කියලා හිතනකොට ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකට පාත්තරයක් පූජා කරන්න ඕන කියලා සසරේ පිරූ පින් ඇති හතර දෙනෙක් හිටියා. ඒ හතරදෙනා තමයි ඒ වෙනකොට දතරාෂ්ට්‍ර, විරූඩ, විරූපාක්ෂ, වෛශ්‍රමණ කියලා සතරවරම් දෙවියන්ගේ නාමයෙන් දෙව්ලොව හිටියේ. ඒ හතරදෙනාම හතර පැත්තෙ ඉඳලා පාත්තර, එතකොට බලන්න මාරයත් බුදුරජාණන් වහන්සේගේ පියවරක් පියවරක් පාසා ඉන්නවා. දෙවිවරුත් බුදුරජාණන් වහන්සේගේ පියවරක් පියවරක් පාසා ඉන්නවා. ඒ හිතන සිතුවිල්ල හිතුව සැනින් ඔවුන්ට දැනෙනවා. ඊටපස්සෙ ඒ හතර දෙනාම හතර පැත්තෙන් පාත්තර හතර ගෙනාවා. බුදුරජාණන් වහන්සේ පාත්තර එකපාර මෙහෙම ඇල්லුවා. පාත්තර හතරම එකපාර ගන්නකොට, පාත්තර හතරම එක පාත්තරයක් වුනා. පින්වතුනි භාග්‍යවතුන් වහන්සේගේ පාත්‍රා ධාතූන් වහන්සේගේ අදටත් ඒ රේඛා හතර වෙනම තියෙනවා කියනවා ගල් පාත්තරේ, ශෛලමය පාත්තරේ. හරී සැහැල්ලුයි, අතට බර නෑ ගොඩාක්. ඉතින් ඒ පාත්තරයට තමයි ඉස්සෙල්ලාම විළඳ මීපිඩු වැළඳුවෙ. ඔවුන්ට යහපත පිණිස ශාස්තෲණ් වහන්සේ කේශධාතූන් වහන්සේලා ලබලා දුන්නා. ඊටපස්සෙ පින්වතුනි මේ විදියට බුදුරජාණන් වහන්සේ ආයෙත් අජපාල නුග වෘක්ෂය මුලට වැඩියා. ඒ අජපාල නුග වෘක්ෂයේදී, නුගරුක මුල බුදුරජාණන් වහන්සේ වැඩ ඉද්දින් නොයෙත් වූ

දහම් පරියායන් සිද්ධ වෙනවා. එතනින් යන අය කතා කරනවා, මාරයා එනවා. ඒ වෙලාවේ තමයි බුදුරජාණන් වහන්සේට, පින්වතුනි අපි මේක තේරුම් ගන්න ඕන. ඒ වෙලාවේ තමයි බුදුරජාණන් වහන්සේ අජපාල නුග වෘක්ෂය මුල වැඩ සිටිනකොට බුදුරජාණන් වහන්සේට හිතුනා, මං අවබෝධ කරපු ධර්මය හරීම ගැඹුරුයි. ඊළඟට දකින්න දුෂ්කරයි. අවබෝධ කරන එක ලේසි නෑ. හැබැයි අවබෝධ කලොත් ශාන්තයි, ප්‍රණීතයි. ඉතින් ඒ නිසා මේක ගාම්භීර වූ, සියුම් වූ, බුද්ධිමතුන්ට අවබෝධ කරන්න පුලුවන් ධර්මයක් නමුත් මේ ලෝක සත්ත්වයා ආශාවෙන් ඉන්නෙ, තෘෂ්ණාවෙන් ඉන්නෙ, ආශාවෙන් සතුටු වෙවී ඉන්නේ, ඉතින් මේ ලෝක සත්ත්වයාට මේ ගාම්භීර පටිච්ච සමුප්පාදය වගේ ධර්මයක් අවබෝධ කරන්න පුලුවන් වේවිද, එහෙම කියලා හිතනකොට බුදුරජාණන් වහන්සේගේ හිත ධර්ම දේශනාවට නොනැමී ගියා. කියන්නෙ ධර්මය දේශනා කරන්න හිතෙන් නෑ, සමාපත්තියේම වැඩ ඉන්නවා. මෙන්න මේ වෙලාවේ බුදුරජාණන් වහන්සේට ගාථාවක් පහළ වුනා. කිච්චේන මේ අධිගථං හලන්දානි පකාසිතුං රාග දෝෂ පරේතේහි නායං ධම්මෝ සුසංබුදු, අතිශයින්ම දුක් මහන්සි වෙලයි මං මේ ධර්මය අවබෝධ කලේ. මේ ධර්මය අනුන්ට කීමෙන් ප්‍රයෝජනයක් වෙන එකක් නෑ. රාග ද්වේෂ මෝහ වලින් වෙලෙන ඒ ජනයාට මේ ධර්මය අවබෝධ කරනවා කියන එක ලේසි එකක් නෙවෙයි. පටිසෝතගාමිං නිපුණං ගම්භීරං බුද්ධසං අනුං රාගරත්තාන ගත්තින්ති තමොක්ඛන්ධේන ආවටාති, මේ ධර්මය උඩුගම් බලා යන එකක්, සියුම් එකක්. ගැඹුරු එකක්, දැකීමට දුෂ්කර එකක්. ඉතා සියුම් එකක්. අවිද්‍යා අන්ධකාරයෙන් වැසුනු රාගයෙන් ඇලුනු මේ සත්තවයෝ මේ ධර්මය අවබෝධ කරන් නෑ කියලා බුදුරජාණන් වහන්සේට හිතුනා. එතකොට බුදුරජාණන් වහන්සේ මේ විස්තරය බෝධිරාජ කුමාරයාට දේශනා කරන්නෙ, අපි සම්බුද්ධත්වය පවා බෝධිරාජ කුමාර සූත්‍රයෙන් ඉගෙන ගත්තෙ. ඉතින් කියනවා රාජකුමාරය, මේ අයුරින් මම කල්පනා කරද්දි උත්සාහය අඩු පැත්තට හිත නැමුනා. ඊටපස්සෙ රාජකුමාරය, මගේ හිත දැකගන්න ලැබුනා, මහා බ්‍රහ්මයාට. මහා බ්‍රහ්මයාට හිතුනා අයියෝ ලෝකය නැසෙන්නට යන්නෙ, නස්සති වසහෝ ලෝකො, ලෝකෙ නැසෙන්නට යන්නෙ, විනස්සති වසහෝ ලෝකො, ලෝකෙ විනාශ වෙන්නට යන්නෙ. තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට ධර්ම දේශනා කරන්න හිත නැමෙන් නෑ කියලා මහා බ්‍රහ්මයාට හරී සංවේගයක් ඉපදුනා. ඊටපස්සෙ මහා බ්‍රහ්මයා, පින්වතුනි දික්කරපු අතක් අකුලන වේගෙන්, අකුලපු අතක් දික්කරන වේගෙන්, ඒ බ්‍රහ්ම

ලෝකෙන් අතුරුදහන් වෙලා බුදුරජාණන් වහන්සේ ළඟ අජපාල නුග වෘක්ෂය මුල දකුණු දණ මඩල බිම තියාගෙන පහළ වුනා. එතකොට ඇයි මේ උපමාවක් කියන්නෙ, වක් කරපු අතක් දික් කරන, දික් කරපු අතක් වක් කරන කියලා. පින්වතුනි විශාල, දැවැන්ත, අපි කියමු සීගිරිය වගේ දහගුණයක් විශාල ගලක් බ්‍රහ්ම ලෝකෙ ඉඳලා පෘථිවියට අතෑරියොත් එහෙම මාස හතරක් යනවා කියනවා පොළොවට වැටෙන්න. එතකොට බ්‍රහ්ම ලෝකෙයි පොළොවයි අතර කොච්චර දුරක් තියෙනවද කියලා බලන්න. එතකොට එච්චර දුර තමයි මේ වක් කරපු අතක් දික් කරනවා වේගෙන් දික් කරපු අතක් වක් කරන වේගෙන් ඒ තත්පරේට පහළ වෙනවා. ඊටපස්සෙ ඒ මහා බ්‍රහ්මයා බුදුරජාණන් වහන්සේට ඇවිල්ලා කියනවා, දේසේත භන්තේ භගවා ධම්මං, භාග්‍යවතුන් වහන්සේ ධර්මය දේශනා කරන සේක්වා, දේසේත සුගත ධම්මං, සුගතයන් වහන්ස ධර්මය දේශනා කරන සේක්වා. බුදුරජාණන් වහන්සේට දේශනා කරනවා භවිස්සන්ති ධම්මස්ස අඤ්ඤාතාරො, ධර්මය දේශනා කලොත් අවබෝධ කරන අය ඉන්නවා. අස්සවනස්ස ධම්මස්ස පරිහායන්ති, ධර්මය දේශනා නොකළොත් මේ ලෝකයා පිරිහී යයි. ඉතින් ඒ නිසා භාග්‍යවතුන් වහන්සේ ධර්මය දේශනා කරන සේක්වා. සහම්පති බ්‍රහ්මරාජයා, මේ සහම්පති බ්‍රහ්මරාජයා කියන්නේ කාශ්‍යප බුද්ධ ශාසනයේ සහක කියන භික්ෂුව අනාගාමී වෙලා. මේ අනාගාමී බ්‍රහ්මරාජයෙක්. බුදුරජාණන්වහන්සේ ඉදිරියේ දේශනා කරනවා ගාථාවක්. පාතුරහෝසි මගදේ සුකුම්බේ ධම්මෝ වසුද්දෝ සමලේහි චින්තිතෝ අවාපුරේතං අමතස්ස ද්වාරං සුනන්තු ධම්මං විමලේනානුබුද්ධං. ඉස්සර මේ මගධ ජනපදයේ අපිරිසිදු ධර්මයන් පැතිරිලා තිබුනෙ. ඇයි, ෂඩ් ශාස්තෘවරු විකාර කියවගෙන ගියානෙ. ඒ නිසා ස්වාමීනී නිවන් දොර විවෘත කරන්න. නිර්මල ප්‍රඥා ඇති බුදුරජාණන් වහන්සේගේ ධර්මය නුවණැත්තෝ අසත්වා. සීලේ අතා පබ්බත මුද්ද නිප්පිතෝ යතාපිපස්සේ ජනතංසමන්තතූ තතූපමං ධම්මමයං සුමේධ පාසාදමාරුය්හ සමන්ත චක්කූ සෝකාවතින්නං ජනකම පේත සෝකො අවෙක්කස්සු ජාති ජරාපි භූතං. ශෛලමය පර්වතයක් මුදුනට නැග ගත්තු කෙනෙක් වගේ හාත්පස සිටින ජනතාව දිහා බලනවා වගේ ඔබ වහන්සේට ලෝකය පේනවා. මහා ප්‍රාඥ වූ හාත්පස දකින නුවණැස ඇත්තා වූ බුදුරජාණන් වහන්ස, ධර්මයෙන් කරන ලද ප්‍රාසාදයට නැගී සෝක රහිත හිතින් ඉපදීම් වලින් ජරා මරණ වලින් පෙලෙන, ශෝකයෙහි ගිලුනු ජනතාව දෙස බලන සේක්වා. උට්ඨේහී වීර විජිත සංගාම සත්තාවාහ අනනවිචර ලෝකෙ දේසෙසු භගවා

ධම්මං අඤ්ඤාතාරො භවිස්සති, මහා බ්‍රහ්මයා කියනවා, මාර යුද්ධයෙන් දිනූ මහා වීරයන් වහන්සෙ නැගී සිටින සේක්වා. උතුම් ගැල් කරුවාණන් වහන්ස, ණය නැති උතුමාණන් වහන්ස, ලොව පුරා සැරිසරන සේක්වා. භාග්‍යවතුන් වහන්ස, සදහම් දෙසන සේක්වා, අවබෝධ කරන අය ඇතිවෙනවාමයි. පින්වතුනි මේ අවස්ථාව මේ විදියට යෙදෙන්නෙ සෑම බුදුරජාණන් වහන්සේ නමක්ම ධර්මය දේශනා කරන්නෙ මහා බ්‍රහ්මයාගෙ ආරාධනාවෙන්. මොකද හේතුව ඒ වෙනාකොට මේ ලෝක ධාතුවේම සියලු දෙනාම මහා බ්‍රහ්මයා ප්‍රධාන කොටගෙන වාසය කරනවා. ඒ කියන්නෙ සියලුදෙනාම මහා බ්‍රහ්මයාට තමයි ඒ වෙනකොට උතුම්ම කෙනා කියලා වදින්නෙ. එහෙව් මහා බ්‍රහ්මයා දණ ගහලා බුදුරජාණන් වහන්සේ ළඟ, ස්වාමීනී ධර්මය දේශනා කරන්න, මේ සත්ත්වයා නිදහස් කරන්න කියලා ආරාධනා කරනවා කියලා යමක් ඇත්ද, සෑම බුදුරජාණන් වහන්සේ නමකටම ඒ පළවෙනි ආරාධනාව සිද්ධ වෙනවා. බුදුරජාණන් වහන්සේ නමක් ධර්මය දේශනා කරන්නෙ ආරාධනාවකින්. පිරිනිවන් පාන්නෙත් ආරාධනාවකින්. ඉතින් ඒ නිසා මේවා ලෝකයේ සිද්ධ වෙන ධර්මතා. ඊටපස්සෙ පින්වත්නි, මහා බ්‍රහ්මයා ඔය විදියට කිව්වට පස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා බෝධිරාජ කුමාරයාට, රාජ කුමාරය, මහා බ්‍රහ්මයාගෙ අදහස මට අවබෝධ වුනා. ඊටපස්සෙ මම ලෝකය දිහා බුදු ඇසින් බැලුවා. බුද්ධ චක්ඛුනා ලෝකෝ ඕලෝකෙත්වා, බුදුරජාණන් වහන්සේ බුදු ඇසින් ලෝකය දිහා බැලුවා. බලද්දි බුදුරජාණන් වහන්සේට පෙනුනා, සමහර සත්ත්වයෝ ඉන්නවා කෙලෙස් අඩුයි. සමහර අයට කෙලෙස් වැඩියි. සමහර අයගේ ශ්‍රද්ධා ආදී ඉන්ද්‍රියන් තියුණුයි. සමහර අයගේ ඉන්ද්‍රියන් තියුණු නෑ, සමහර අයට පහසුවෙන් අවබෝධ කරන්න පුලුවන්, සමහර අයට පහසුවෙන් අවබෝධ කරන්න බෑ. ඉතින් බුදුරජාණන් වහන්සේ දැක්කා සමහර අය පව් වලට බයයි, සමහර අය පව් වලට බය නෑ. එතකොට බලන්න එහෙනම් බුදුරජාණන් වහන්සේෙ බුදු ඇසින් දැක්කෙ එහෙම. එතකොට අදටත් ඉන්නවා සමහර අය පව් වලට බය නෑ, සමහර අය බයයි. සමහර අයට ශ්‍රද්ධාව හටගන්නවා. සමහර අයට ශ්‍රද්ධාව හටගන්නෑ. සමහර අය කෙලෙස් අඩුයි, සමහර අයට කෙලෙස් වැඩියි. බුදුරජාණන් වහන්සේ මේක දැක්කා. ඉතින් බුදුරජාණන් වහන්සේට මේ ලෝකය පෙනුනේ නෙළුම් විලක් වගේ. ඉතින් විලේ මඩේ ඇතුලෙන්ම පොඩි පොහොට්ටු හැදිලා තියෙනවා. පොඩ්ඩක් උඩට ඇවිල්ලා තියෙනවා, වතුර ගාණට ඇවිල්ලා තියෙනවා. පොඩ්ඩක් වතුරෙන් උඩට ඇවිල්ලා තියෙනවා. වතුරෙ ගෑවි ගෑවි තියෙනවා. මෝරලා තියෙනවා.

වතුරෙන් උඩට ඇවිල්ලා මෝරලා තියෙනවා වතුර ගෑවෙන්නැතිව හිරු එළිය වැටෙනකල් පිපෙන්න බලාගෙන ඉන්නෙ. ඒ නිසා නෙළුම් විලක් වගේ තමයි පින්වතුනි ලෝකය බුදුරජාණන් වහන්සේට පෙනුනෙ. එතකොට හිරුමඩල කොච්චර පහළ වුනත් නෙළුම තියෙන්න ඕන සුදුසු තැන. ඒ වගේ තමයි කොච්චර බණ කිව්වත් ඒ ධර්මය අවබෝධ වෙන්නෙ කෙනාගෙ ස්වභාවය අනුව. අපි වතුර ඇතුලෙ තියෙන නෙළුමකට කොච්චරකට ඉරමඩල පෑව්වත් ඒක පිපෙන්නේ නැත. වතුරෙන් උඩ තියෙන නෙළුමකට මෝරලා තියෙන නෙළුමකට පොඩි හිරු එළියටත් ඉක්මණට පිපෙනවා. ඒ වගේ තමයි පින්වත්නි, අපිට සාමාන්‍යයෙන් මේ ලෝකෙ සියලු දෙනාම එක අදහසකට ගන්න බෑ. ඔබගේ ගෙදර අයත් එක අදහසකට ගන්න බෑ. පස්දෙනා පස් විදියක්. මේක ලෝකයේ ස්වභාවය. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරන්න සිත් පහළ වුනා. බුදුරජාණන් වහන්සේ ලස්සන ගාථාවක් වදාළා. ආපාරුතා තේසං අමතස්ස ද්වාරා යේසෝතවන්තො පමුච්ඡන්තු සද්ධං විහිංස සඤ්ඤීපගුණන්න භාසිං ධම්මං පණීතං මනුජේසුබ්‍රහ්මෙති, කියනවා මම අමා ද්වාරය විවෘත කලා නිවනට තිබෙන. සදහම් අසනු කැමැත්තො ශ්‍රද්ධාවම ගත්වා. පින්වත් බ්‍රහ්මය මේ ප්‍රණීත වූ ධර්මය මට දේශනා කරන්න නොහිතුවේ වෙහෙසට පත්වෙයි කියලා. බ්‍රහ්මය ඒ උතුම් අමා ද්වාරය මං දැන් විවෘත කරනවා. බුදුරජාණන් වහන්සේ වදාළේ මේකයි. අපාරුතා තේසං අමතස්ස ද්වාරං, මං අමාද්වාරය විවෘත කරනවා. යේ සෝතවන්තෝ පමුච්ඡන්තු සද්ධං, ශ්‍රද්ධාවන්ත අය කන් යොමු කරත්වා, මං ධර්මය දේශනා කරනවා. දැන් බලන්න ශ්‍රද්ධාව කියන එක කොච්චර වටිනවාද. බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරන්න හිතනකොටම හිතුවේ ශ්‍රද්ධාවන්තයෝ කන් යොමුකරත්වා, මං ධර්මය දේශනා කරනවා. ඒ කියන්නෙ ශ්‍රද්ධාවන්තයෝ කියන්නෙ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරන දේ විශ්වාස කරන අය. ඉතින් පින්වත් රාජ කුමාරය, සහම්පති බ්‍රහ්මයා බුදුරජාණන් වහන්සේ මේ ආරාධනාව පිළිගත්තනේ කියලා එතනින් අතුරුදහන් වෙලා ගියා. ඉතින් මං කල්පනා කලා කාටද ඉස්සෙල්ලාම ධර්මය දේශනා කරන්නෙ කියලා. එහෙම කල්පනා කරනකොට බෝධිරාජ කුමාරය, මට කල්පනා වුනා මේ ආලාරකාලාම ඉතාමත් ව්‍යක්තයි, ප්‍රඥාවන්තයි, බොහෝ කාලයක් කෙලෙස් අඩුවෙන් හිටපු කෙනෙක්. ඔහුට ධර්මය දේශනා කලොත් හොඳයි කියලා. එතකොට බලන්න මට මේක කියවනකොට පුදුම හිතුනෙ මේ දේශනාව, තථාගත බුදුරජාණන් වහන්සේට ධර්මය දේශනා කරන්න ඉස්සෙල්ලාම මතක්

වෙන්නෙ ගුරුවරු. ඒ කියන්නෙ තමන්ගේ බෝසත් අවධියේ හිටපු ගුරුවරු. එතකොට ගුරු ගෞරවය, ගුරුවරුන්ට තියෙන, බුදුහිතක ගුරුවරයෙකුට තියෙන තැන බලන්න. සාමාන්‍යයෙන් බුදුරජාණන් වහන්සේගේ ගුරුවරයා කියන්නෙ ධර්ම විනයනෙ. බුදුරජාණන් වහන්සේ ධර්ම විනය දේශනා කරන්න කලින් බුදුරජාණන් වහන්සේ ධර්ම විනය ගුරු තනතුරේ තියාගත්තා. ඒක සිද්ධ වුනේ අජපාල නුගරුක්ෂය මුල. මේ මහා බ්‍රහ්මයා ධර්මය දේශනා කරන්න ආරාධනා කරන්න කලින් බුදුරජාණන් වහන්සේ අජපාල නුග වෘක්ෂය මුල ඉද්දින් කල්පනා කලා මේ ලෝකයේ සියලු දෙනාට ගුරුවරු ඉන්නවා. ගුරුවරයෙක් නැතිව ජීවත් වෙන එක හරි දුකක් කියලා, බුදුරජාණන් වහන්සේ පවා හිතුවා. ඊටපස්සෙ බැලුවා දියුණු නොකරපු සීලයක්, සමාධියක්, ප්‍රඥාවක්, තියෙන කෙනෙක් තුන්ලෝක ධාතුවේම ඉන්නවාද, ගුරුවරයා කරගන්න කියලා. එහෙම කෙනෙක් නෑ, ඒ නිසා බුදුරජාණන් වහන්සේ ධර්ම විනයම ගුරුවරයා කරගත්තා. සහම්පති බ්‍රහ්මරාජයා පහළ වෙලා කියනවා, සාදු සාදු භන්තේ භගවා, ස්වාමීනී ඉතාමත් මැනවි, අතීතයේත් බුදුරජාණන් වහන්සේලා ධර්ම විනයමයි ගුරු කරගත්තෙ. අනාගතයේත් බුදුරජාණන් වහන්සේලා ධර්ම විනයමයි ගුරු කරගන්නෙ. මගේ ගෞතම බුදුරජාණන් වහන්සේ ධර්ම විනයම ගුරු කරගත්තා කියලා සාදු කියලා අනුමෝදන් වෙලා අතුරුදහන් වුනා. ඉතින් බලන්න එහෙව් තථාගතයන් වහන්සේගේ හදවතේ බෝධිසත්ත්ව කාලෙ හරි යමක් උගන්නපු කෙනෙකුට තියෙන තැන. ඉස්සෙල්ලාම ධර්මය දේශනා කරන්න මතක් වුනේ ඒ කාලෙ ගුරුහරුකම් දුන්නු අය. ඊටපස්සෙ එහෙම හිතනකොටම දෙවිවරු, බලන්න ඒ සිතිවිල්ලක් ගානෙ දෙවිවරු බලාගෙන ඉන්නවානෙ. ඊටපස්සෙ ඒ දෙවිවරු කිව්වා, භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ පෙනී ඉඳලා, ස්වාමීනී, ආලාරකාලාම මීට දවස් හතකට කලින් මැරුනා කියලා. බලන්න පින්වතුනි මෙහෙමත් අභාග්‍යයක්. අනේ තවත් දවස් හතක් හිටියා නම්, දවස් හතකින් ආයුෂ වැඩිවෙන එක කොච්චර වැදගත් ද කියලා බලන්න. ඊටපස්සෙ උන්වහන්සේ දිවැසින් බැලුවා. ඇත්තටම ආලාරකාලාම මැරිලා ගිහිල්ලා අසංඥ ලෝක වල ඉපදිලා, අරූප ලෝක වල. ඔවුන්ට ධර්මය දේශනා කරන්න බෑ. ඊටපස්සෙ කල්පනා කලා උද්දකරාමපුත්‍ර. රාමපුත්‍ර උද්දක බොහෝ හොඳයි, කෙලෙස් අඩු කෙනෙක්. උන්වහන්සේ කෙලෙස් අඩු අය තමයි මුලින්ම හෙව්වේ. ඊටපස්සෙ දෙවිවරු කිව්වා ස්වාමීනී උද්දකරාමපුත්‍ර ඊයෙ රාත්‍රියේ මැරිලා ගියා, කළුරිය කලා කියලා. එක දවසක් හිටියා නම් පින්වත්නි. බලන්න මේ පැය විසිහතරක, බුදුකෙනෙක් ධර්මය දේශනා කරන්න හිතද්දිනුත්, දැන්

අරූප ලෝකයේ. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ කල්පනා කලා එහෙනම් මම ධර්මය දේශනා කරන්න ඕන මට බොහෝ උපකාර කරපු පස්වග භික්ෂූන් වහන්සේලාට කියලා. ඊටපස්සෙ පස්වග භික්ෂූන් වහන්සේලා කොහෙද ඉන්නෙ කියලා දිවැසින් බලනකොට, මිනිස් ඇස ඉක්මවා ගිය දිවැසින් බුදුරජාණන් වහන්සේට පෙනුනා ඉසිපතන මිගදායේ වැඩ සිටිනවා. බලන්න ඒ ධර්මය දේශනා කරන්න හිතනකොට ඒ අය ඒ අදාළ තැන් වලට ගිහිල්ලා ඉන්න හැටි. ඇයි සෑම බුදුරජාණන් වහන්සේ නමක්ම මේ මහා භද්‍ර කල්පයේ පහළ වෙන බුදුරජාණන් වහන්සේලා පස් නමම පළවෙනි ධර්මය දේශනා කරන්නෙ බාරාණාසියෙ ඉසිපතනයේ. එතකොට ඒ වෙනකොට ඒ අය එතන ඉන්නෙ. ඒක ලෝකයේ ධර්මතා. ඒකනෙ මහා බෝධිසත්ත්වයො සාමාන්‍යයෙන් ධර්මය හොයාගෙන හිමාලයට යද්දි පිරිස, බුදුරජාණන් වහන්සේ හාත්පසින් හිමාලයෙන් අනිත් පැත්තට ගියානෙ, මගධයට ආවානෙ බෝධිසත්ත්වයෝ. එතකොට බලන්න ඒ ධර්මය විසින් කැඳවීමට සුදුසු ප්‍රදේශයට කැඳවන හැටි. ඒකයි ඉතින් සමහර විට ඔයාලා පිටරට ඉඳලා ධර්මය අහන අය ඇති. ඔයාලට මේ ධර්මය ඇහෙන්න පිටරටටම යන්න සිද්ධ වුනා. ලංකාවෙ හිටියානම් අහන්නෑ මේ බණ ටික. ඉතින් ඒ වාගේ සමහරවෙලාවට ඇඳිරිනීතිය වැටෙන්න ඕන බණ ටිකක් අහන්න. ඊළඟට එක්කො ඔක්කෝම ගෙදරටම එන්න ඕන බණ ටිකක් අහන්න. එක්කො අල්ලපු ගෙදර බණ ටිකක් දාලා තිබ්බොත් තමයි මේ ගෙදර බණ අහන්නෙ. එක්කො කඩේකට ගොඩවුනු විට. එක්කො නගරයට ගිය විට. එක්කො යාළුවෙක්ගෙන් ෆෝන් එකකින් නිකන් මොකක්හරි වීඩියෝ එකක් බලන ගමන් මේ බණ ටිකක් එනවා. ඒ වගේ තමයි ඒ එක එක දේවල් සකස් වෙලා. ඉතින් ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ බරණැස ඉසිපතනයට වඩින්න පිටත් වුනා, ගයාවේ වජිරාසනයේ, සම්මා සම්බුදු වුනු වජිරාසනයේ, ඊළඟට තියෙනවා ගයා නගරය, ඊළඟට තමයි බාරාණාසියට යන්න තියෙන්නෙ. එතකොට බෝධීන් වහන්සේ ළඟින් නැගිටලා බුදුරජාණන් වහන්සේ බෝධීන් වහන්සේ වැඩ හිටපු පැත්තෙන් ගයාව පැත්තට වඩිනකොට උපක කියලා ආජීවකයෙක් එනවා. මේ උපක ආජීවකයා වනයේ එනකොට බුදුරජාණන් වහන්සේ දැක්කා මොහුට අනාගතයේ පිහිට වෙන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේගේ ශරීරයෙන් රශ්මි ධාරා විහිදෙව්වා. එතකොට වනයේ හැමතැනම එක එක රශ්මි ධාරාවන්. වතුර වගේ රශ්මි ධාරාවක් දැනෙනවා, නමුත් ඇඟ තෙමෙන් නෑ. ගින්දර වගේ රශ්මි ධාරාවක් එනවා පිච්චෙන් නෑ. දැන් උපක පුදුම වෙලා බලාගෙන ඉන්නකොට රන්කඳක්

වගේ භාග්‍යවතුන් වහන්සේ මූණටම මුණ ගැහුනා. ඊටපස්සෙ උපක, බුදුරජාණන් වහන්සේගෙන් අහනවා ඔබවහන්සේ මහා පුදුම කෙනෙක්නෙ. මේ බබලනවා, මහා ප්‍රසන්න ඉඳුරන් තියෙනවා, මේ පුදුම කෙනෙක්. කවුද ඔබ? ඔබ වහන්සේ කවුද? ඔබ වහන්සේගේ ගුරුවරයා කවුද? මොන ධර්මයක්ද පිළිපදින්නෙ. ඒ වෙලාවේ මම කිව්වා, බුදුරජාණන් වහන්සේ වදාරනවා, සබ්බාභිභූ සබ්බවිදූ හමස්මිං සබ්බේසු ධම්මේසු අනූපලිත්තෝ සබ්බඤ්ඤහෝ තණ්හක්කයෝ විමුත්තෝ සයං අභිඤ්ඤාය සමුද්දිසෙය්‍යා, බුදුරජාණන් වහන්සේ දේශනා කලා සියලු අකුසල් මැඩලූවෙක් මම. මම සියලු දේම අවබෝධ කලා. සෑම දේකට නොඇලුන කෙනෙක්. සෑම ක්ලේශයක්ම අත්හළ කෙනෙක්. තණ්හාව ක්ෂයවීමෙන් ලත් විමුක්තියට පත් වූ කෙනෙක්. මා තුළ ඇතිවුනා වූ අවබෝධ ඥාණය මේ සියල්ලම දැනගත් මට කවර ගුරුවරයෙක් හොයන්නද මම. නමේ ආචරියෝ වත්තී සදෙසෝ මේ නවිජ්ජති සදේවකස්මිං ලෝකස්මිං නත්තිමේ පටිපුග්ගලො, මට ගුරුවරයෙක් නෑ. මට සමාන කෙනෙකුත් නෑ, මේ දෙවියන් සහිත ලෝකයේ මට සමාන කෙනෙක් සොයාගන්නත් නෑ. අහංහි අරහා ලෝකෙ අහංහි සත්තා අනුත්තරො ඒකොහි සම්මා සම්බුද්ධෝ සීතිභූතොසිනිබ්බුතෝ, මං තමයි මේ ලෝකෙ රහතන් වහන්සේ. මම වනාහි අනුත්තර ශාස්තෘවරයාණන් වහන්සේ. හුදකලාවේම, තනියම සම්බුද්ධත්වයට පත් වූ මම තෘෂ්ණාව ක්ෂය කරලා සිහිල් වෙලා නිවී ගිය කෙනෙක්. ධම්මචක්කං පවත්තේතු ගච්ඡාමි කාසි නම් පුරං අන්ධභූතස්මිං ලෝකස්මිං ආහච්ඡං අමතං දුන්දුමිං, මං මේ ධර්මචක්කය පවත්වන්න කාසි ජනපදයට බාරාණසියට යන ගමන්. අවිද්‍යා අන්ධකාරයෙන් වැහුනු ලෝකෙට මම අමා බෙරය වයනවා. ඉතින් එතකොට උපක ඇහුවා දැන් ඔය කියන විදියට ඔබ වහන්සේ අනන්තයටම ජයගත්ත කෙනෙක් කියලද කියන්නෙ. අනන්තජින කියලද කියන්නෙ. මාදිසාවේ ජිනා හොන්ති යේ සත්තා ආසවක්ඛයං ජිතා මේ පාපකා ධම්මා තස්මාහං උපකා ජිනො, කියනවා උපක යම්කිසි කෙනෙක් ආස්‍රව ක්ෂය කිරීමට පත්වුනා නම් මා බඳු ඔවුන් ඒකාන්තයෙන්ම ජින කියන වචනයට සුදුසුයි. මා විසින් පාපී අකුසල කර්මයන් දිනන ලද්දේය, එහෙයින් උපකය මම ජින වෙනවා. එතකොට එහෙනම් උපක හිතුවා අන්නතජින මේ. එහෙම වෙන්න පුලුවන් ආයුෂ්මතුනි අනන්ත ජින, අනන්ත ජින, අනන්ත ජින කියලා අපිට මුණගැහෙනවා නම් හොඳයි කියලා එහෙම හිතලා ගියා. එතනින් එහාට මොකුත් වැටහීමක් නෑ. නමුත් මේ උපකට පස්සෙ ගිහිල්ලා මෙයා නාලා කියන ගමට ගිහිල්ලා මෙයා මහා අකරතැබ්

ගොඩකට පත්වෙලා, අවසානයේදී ඔක්කොම අතහැරලා මගේ අනන්ත ජින යාළුවා කෝ කියලා හොයාගෙන බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා අනාගාමී වෙලා බ්‍රහ්ම ලෝකෙ යනවා. බ්‍රහ්ම ලෝකෙ ඉපදිච්ච ගමන් අර්හත්වයට පත්වෙනවා. මේ උපක අර්හත්වයට පත්වෙන්නෙ, උපක ඵලගන්ඩ කුක්කුස ඔය වාගේ පින්වතුනි හතරදෙනෙක් ඉන්නවා, හතරදෙනෙක් හෝ පස්දෙනෙක්. අනාගාමී වෙලා බ්‍රහ්ම ලෝකෙ ගිහිල්ලා ඉපදිච්චි ගමන්ම අර්හත්වයට පත්වුනා, ඒ බ්‍රහ්ම ලෝකයේ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා මේ විදියට චාරිකාවේ වඩිමින් බුදුරජාණන් වහන්සේ බාරාණසී ඉසිපතනයට වඩිනවා. බාරාණසී ඉසිපතනයට වඩිනකොට ඈතින් වඩිනකොට පස්වග භික්ෂූන් වහන්සේලා දැක්කා. කොණ්ඩඤ්ඤ, වප්ප, භද්දිය, මහානාම, අස්සජි. දැකලා කිව්වා ආන්න එනවා ශ්‍රමණ භවත් ගෞතමයන්. තත්ත්වය බහුල වෙලා වීර්යය කණපිට හරවගෙන දැන් ඉතින් ඔය කරගන්න දෙයක් නැතිව අපි ළඟට එනවා ඇති. රාජ කුලයේ නිසා ආවට පස්සෙ ආසනයක් පනවමු. වෙන සැළකිලි සම්මාන ඕන නෑ, දැන් මේ තීරණය කලා. ඊටපස්සෙ මොකද කලේ, බුදුරජාණන් වහන්සේ ළඟට පැමිණෙන්න පැමිණෙන්න තමන්ට අමා මහා නිවන ලබාදෙන උත්තමයා තමා ළඟට පැමිණෙන්න පැමිණෙන්න ඔවුන්ට ඒ අදහස් වල ඉන්න බෑ. කෙනෙක් ගිහිල්ලා සිවුර ගන්නවා. කෙනෙක් පා දෝවනය කරනවා. කෙනෙක් ආසන පනවනවා. කෙනෙක් සුවදුක් විමසනවා. බුදුරජාණන් වහන්සේ වදාළා ඒ වෙලාවේ පස්වග භික්ෂූන් වහන්සේලාට, පින්වත් මහණෙනි, තථාගතයන් වහන්සේ, ඊට ඉස්සෙල්ලා ඇහුවා, ආයුෂ්මතුනි සැප සනීප කොහොමද, බුදුරජාණන් වහන්සේ වදාළා තථාගතයන් වහන්සේට ආයුෂ්මතුනි කියලා කියන්න එපා. ආයුෂ්මතුනි කියන්නෙ යහළුවෙක්, සහෝදරයෙක් වගේ සමාන අයට කතා කරන විදිය. තථාගතයන් වහන්සේ අර්හත්වයට පත්වුනා, සම්මා සම්බුදු වුනා. ඔබට මම ධර්මය දේශනා කරන්නම්. ඒ විදියට පිළිපැද්දොත් කුල පුත්‍රයෙකුට මේ ජීවිතයේදීම දුක් කෙළවර කරන්න පුලුවන්. අනේ ආයුෂ්මතුනි අච්චර දුෂ්කරක්‍රියා කරද්දිත් අවබෝධ කරගන්න බැරිවුනු ඥාණය, දැන් ඔහොම සැප බහුල වෙලා වීර්යය කණපිට හැරවෙලා ඔහොම ඉද්දින් අවබෝධ කරන්න පුලුවන්ද. පින්වත් මහණෙනි, තථාගතයන් වහන්සේට ආයුෂ්මතුනි කියලා කතා කරන්න එපා. තථාගතයන් වහන්සේ ප්‍රත්‍යය බහුල වුන් නෑ, වීර්යය කණපිට හරවගත්තෙ නෑ. ඒ නිසා මම ධර්මය දේශනා කරන්නම්. ඔබ ඒක මනාව අහන්න. මේක පිළිපැද්දොත් මේ වැඩපිළිවෙල, දුකින් නිදහස් වෙන්න

පුලුවන්. අනේ ආයුෂ්මතුනි අච්චර දුක් විඳිද්දිත් දුෂ්කර ක්‍රියාවෙන්, ඒ කියන්නෙ ඒ කාලෙ දුකෙන් නිදහස් වෙන එකම පියවර විදියට දැක්කෙ අත්ථකිලමතානු යෝගය. ඒකෙනුත් බැරිවෙච්චි එකේ කොහොමද මේ සැප බහුල වෙලා මේ රන් රුවක් වගේ බැබලි බැබලි ආහාරපාන අරගෙන කොහොමද අවබෝධ කරන්නෙ. ඊටපස්සෙ තුන්වතාවක් දක්වා කිව්වා. බුදුරජාණන් වහන්සේ හතරවෙනි වතාවෙ ඇහුවා, පින්වත් මහණෙනි, මම මීට කලින් ඔබට මම සම්බුදු වුනා කියලා කියලා තියෙනවාද, අනේ නෑ ස්වාමීනී, කියලා දණ ගැහුවා. එහෙනම් මම ධර්මය දේශනා කරන්නම්, ඒක හරියට පිළිපැද්දොත් අවබෝධ කරගන්න පුලුවන්. ඒ වෙලාවේ තමයි පින්වතුනි බුදුරජාණන් වහන්සේ ධම්මචක්කපවත්තන සූත්‍රය දේශනා කරන්නෙ. කොණ්ඩඤ්ඤයන් වහන්සේ සෝතාපන්න බවට පත්වෙනවා. මට පුදුමය පින්වත්නි මේක කියවගෙන යනකොට, බුදුරජාණන් වහන්සේට බැරිද ඔය පස්දෙනා ඉදිරියේ යමක මහා ප්‍රාතිහාර්ය පාන්න. ඍද්ධි ප්‍රාතිහාර්ය පාන්න බැරිද. ධර්මය අවබෝධ කරන කෙනාට බුදුරජාණන් වහන්සේ ඉස්සෙල්ලාම ඒ ධර්මය ඒත්තු ගැන්නුවෙ සත්‍ය වචනයෙන්, මම බොරු කියලා නෑ. ඒකයි සසරේම ඔන්න ඔය වචනයට එනකල් තමයි පින්වතුනි, ලෝකයට සම්බුද්ධත්වය ප්‍රකාශ කරන්න, ඔය වචනයට එනකල් තමයි අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් එක බොරුවක් කියන්නැතිව මේ ගුණය අරන් ආවෙ. ඒක කියපු ගමන් අර ඔක්කෝම දණ ගැහුවා. බුදුරජාණන් වහන්සේගේ වචන තුළ තියෙන්නෙ සත්‍යමයි. සත්‍යමයි. ඒ සත්‍යයෙන්ම තමයි ලෝකෙට රහතන් වහන්සේලා පහළ වුනේ. ඒ නිසා මෙවැනි වූ අසිරියක්, සම්බුදු අසිරියක්. ඔය පළවෙනි ධර්මය දේශනා කරපු විදිය. අපි ඊළඟ දවසේ ඉඳලා ඉගෙනගන්නේ සම්බුදු ගුණ, මං ඔය දේශනා කරන්න ගත්තෙ එදා උන්වහන්සේ ජයසිරිමහා බෝධීන් වහන්සේ ළඟින් නැගිටලා තියන තියන පියවරක් පාසාම ලෝක සත්ත්වයා නිදහස් කරවන්නමයි තිබ්බෙ. ඒ උතුම් ශාස්තෘන් වහන්සේගේ සත්‍ය වචනයෙන් ලෝකය සැනසූ බුදුරජාණන් වහන්සේ දිවිහිමියෙන් මම සරණ යනවා කියලා සරණ යන්න. ඒ ලෝක සත්ත්වයාට හිත සුව පිණිස පළමුවන්ම සත්‍යයම ඔප්පු කරලා දේශනා කරපු ඒ උතුම් ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා සරණ යන්න. ආර්ය මහා සංඝරත්නය දිවිහිමියෙන්, මේ කොණ්ඩඤ්ඤ මහරහතන් වහන්සේගේ පටන් පැවතගෙන එන සියලූම ආර්ය සංඝරත්නය දිවිහිමියෙන් මම සරණ යනවා කියලා සරණ යන්න. ඒ උතුම් තිසරණය ඔබගේ ජීවිතයට එකම සැනසිල්ල පිළිසරණ වේවා. මේ සරණ ඔබව දුකින් නිදහස් කරත්වා.

ඉතින් පින්වත්නි අද දවසේ මේ උතුම් ධර්ම දේශනාවට දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් ලලිත් ඕපාත මහත්මයා සහ සිදත්ත රණතුංග මහත්මයා යන මිතුරු දෙපළ විසින්. ඉතින් පින්වත්නි, පළමුවෙන්ම අපි පින් පමුණුවමු, සෙත් ප්‍රාර්ථනා කරමු, බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු ගුණ බලයෙන් ඒ වගේම බුදුරජාණන් වහන්සේගේ සත්‍යයේ බලයෙන් ඊළඟට ගයාවේ වජිරාසන බෝධීන් වහන්සේගේ බෝමුල පටන් තබන තබන පියවරක් පාසා ලෝක සත්ත්වයාට හිත සුව පිණිසම තැබූ ආනුභාව බලයෙන්, මේ ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ කොරෝනා වසංගතය දුරින්ම දුරු වේවා. ලෝක සත්ත්වයා සුවපත් වේවා. ලෙඩක් දුකක් කරදරයක් පීඩාවක් නොවේවා. මනුස්ස වර්ගයාටත් සියලු දෙනාටත් සෙත් වේවා බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ අනුහසින් කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. පින් කැමැති සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙලා මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා පින් පමුණුවමු. මියපරලොව ගිය වෝල්ටර් ඕපාත පියාණන්ට සහ අනුර රණතුංග පියාණන්ට පින් අනුමෝදන් වේවා. ඔබ කවුරුත් නමින් මියගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා කියලා පින් පමුණුවනවා. පරම පූජනීය, ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලු සඟරුවනට, සිල් මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ධර්මාවබෝධයම සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම සුජීවත්ව සිටින යූ.ඩී. ගුණවතී මෑණියන්ට සහ සීලා විතානගේ මෑණියන්ට මේ පින් අනුමෝදන් වේවා, අනුමෝදන් වෙත්වා, ඒ වගේම ඒ ඇත්තො නිරෝගී සුව ලබත්වා. මෙල්බර්න් නුවර පදිංචි පින්වත් ලලිත් ඕපාත මහත්මයා සහ සිදත් රණතුංග මහත්මයාට මේ පින් අනුමෝදන් වේවා. නිදුක් නිරොගී සුව සැලසේවා. කරදරයක්, හිංසාවක්, පීඩාවක්, උපද්‍රවයක් නොවේවා. උතුම් චතුරාර්ය සත්‍යය අවබෝධ කරගැනීම පිණිස මේ පින් ඒකාන්තයෙන්ම හේතුවාසනා වේවා. ඒ වගේම මේ රැස්කරගත්ත සියලු පින් අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් සියලු දෙනාට අනුමෝදන් වෙත්වා. ඒ වාගේම ඔබ සියලු දෙනාට විශේෂයෙන් ශ්‍රද්ධා කාර්යමණ්ඩලයේ දරුවන් ඉතාමත් මහන්සි වෙලා මේ කලබල අස්සේ මේ ධර්ම දේශනා පටිගත කරන්න හරියට මහන්සි වෙන්නෙ. ඉතින් මේ දරුවන්ටත් නිදුක් නිරෝගී සුව සැලසේවා. ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනියේ ලක්විරු ගුවන් විදුලියේ සියලූම ධර්ම

දායකත්ව සපයන සියලු දෙනාට, ඔබසියලු දෙනාට මේ පින් බලයෙන් බුදුරජාණන් වහන්සේ මහා කරුණාවෙන් දේශනා කල ඒ උතුම් ධර්මය අවබෝධ කරගන්නට වාසනාව ලැබේවා. උතුම් සම්බුදු සරණින් සැනසෙත්වා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=QUU1A1Q06iE&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=20

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අපගේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණ තුළින් සැනසෙන්නේ කොහොමද කියලයි මේ දහම් දේශනා මාලාවෙන් අපි ඉගෙන ගන්නෙ. ධර්මය නොදන්නා කෙනෙකුට වුනත්, වෙනත් ආගමක කෙනෙකුට වුනත් ඒ වගේම ධර්මයට ආසා ඕනම කෙනෙකුට වුනත්, දන්න අයටත් නොදන්න අයටත් සියලු දෙනාට පුදුම දහම් දැනුමක්, ඒ වගේම බුදුරජාණන් වහන්සේගේ ශාසනය පිළිබඳව විශේෂ හැඟීමක් උපද්දවගන්න, ඒ වගේම පැහැදීම පිණිස මේ දේශනා මාලාව උපකාරී වෙනවා. ඉතින් ඒ නිසා මේවාගේ වටිනාකම සමහරවෙලාවට ඉදිරියට දැනේවි. දැන් නම් නිතර ධර්මය කතා කරන නිසා බුදුරජාණන් වහන්සේගේ ජීවිතය ගැන අහන්න ලැබෙනවා. මට මතකයි අපි පුංචි කාලයේ බුදුරජාණන් වහන්සේගේ සම්බුදු ජීවිතය වුනත් දහම් පාසල් පොතකින් හැර ස්කෝලෙ

පොතකින් හැර ලොකු විස්තරයක් නෑ ඒවගේ, පොඩී විස්තරයක් තියෙන්නෙ. එතකොට මෙච්චර විස්තර කරන දෙයක් අපි ඉගෙන ගෙන නෑ කලින්. ඒ නිසා අනාගතේ කාලයක් එයි බුදුරජාණන් වහන්සේගේ සම්බුදු ජීවිතේ ගැන පැහැදීමවත් උපද්දවන්නැති. ඇයි ගොඩාක් අය ගැඹුරින් ගැඹුරින් ධර්මය අවබෝධ කරන්න ඕන කියලා, ගැඹුර ගැඹුර කියලා මොකක්දෝ එකක් හොයාගෙන යනවා. ඒ අය කැමැති නෑ බුදුරජාණන් වහන්සේ ගැන අහන්න. බුදුගුණ ගැන අහන්න. දස පාරමිතා ගැන අහන්න. ඒවා ගැනත් කැමැති නෑ. එයාලට කෙලින්ම ගැඹුරම ඕන. ඒ නිසා එහෙම වුනාට පස්සෙ අනාගතේ බුදුරජාණන් වහන්සේට පැහැදීම පිණිස මොකද නොදන්නා නොතේරෙන දෙයක් කියලා, ආ ලොකු දෙයක් කියලා හිතනවට වැඩිය, අපිට තේරෙන අපේ හිතට දැනෙන පැහැදීම වටිනවා නොතේරෙන දේවල් වලට වඩා. මොකද ඒ පැහැදීමෙන් තමයි අනුපුබ්බ සික්ඛා, අනුපුබ්බ කිරියා, අනුපුබ්බ පටිපදා, පිළිවෙලට තමයි පින්වතුනි මේ නිවන් මාර්ගයේ ගැඹුරට අපිට යන්න තියෙන්නෙ. ඒකේ මූලික ප්‍රවේශය උතුම් සම්බුදු සරණ. ඉතින් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නේ එංගලන්තයේ පදිංචි පින්වත් සුජීව විජේවර්ධන මහත්මයා සහ මෙව්නා පීරිස් මහත්මිය විසින්. මැයි 19 වැනි දිනට ජන්මදිනය යෙදෙන කවිරු චමත් විජේවර්ධන පුතාට නිදුක් නිරෝගී සුව සහ දීර්ඝායුෂ සම්පත්තිය ප්‍රාර්ථනා කරලා තමයි ඒ පින්වතුන් අද මේ ධර්ම දානයසිද්ධ කරන්නෙ. ඉතින් මේ දරුවන්ටත් සියලු දෙනාට අප්‍රමාණ යහපතක්. ඒ තමයි දැන් අපේ ජීවිතෙ අපි පුංචි කාලෙ අපේ උපන්දිනවලින් ධර්ම දාන පවත්වලා අපිට කවුරුත් ආශිර්වාද කලේ නෑ. ඒක දෙමව්පියන්ගේ වැරැද්ද නෙවෙයි, ඒ කාලෙ ඒ වාගේ පරිසරයක් තිබ්බෙ නෑ. දැන් මේ පුංචි දරුවො පුංචි කාලෙම ඒ දරුවන්ට සෙත් ප්‍රාර්ථනා කරලා ලෝකෙටම ධර්මය දෙනවා. යමක් ද දෙන්නෙ, ලැබෙන්නෙ එයයි. ඒ නිසා මේ දරුවන්ගේ ජීවිතය නිදුක් නිරෝගීව බොහෝ කලක් සුවසේ ජීවත්වෙන්න මේ දරුවන්ට මේ පින හේතුවාසනා වෙනවාමයි. ඉතින් අපි අද ධර්ම දේශනාව ආරම්භ කරමු. පින්වතුනි, උතුම් සම්බුදු ජීවිතයේ අපි මෙතෙක් කතා කරපු මේ විස්තර බෝධිරාජ කුමාරයාට බුදුරජාණන් වහන්සේ දේශනා කරපු සම්බුද්ධත්වයේ ස්වභාවය. බෝධිරාජ කුමාරයා බුදුරජාණන් වහන්සේට දානයට ආරාධනා කලා, එයා ලස්සන ප්‍රාසාදයක් හදලා ඒ ප්‍රාසාදයේ දානයට ආරාධනා කලා. මේ කුමාරයා තරුණයි. මේ දෙදෙනාට දරුවො නෑ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ වඩින මාවතේ සුදු රෙද්දක් ඇතිරුවා පාවඩයක් විදියට. මට දරුවන් ලැබෙනවා නම් භාග්‍යවතුන්

වහන්සේ, සුගතයන් වහන්සේ පාවඩ මතින් වඩින සේක්වා. බුදුරජාණන් වහන්සේට යම්තැනකට වඩිනකොට පාවඩයක් දාලා තිබුනොත් බුදුරජාණන් වහන්සේ ඒ පාවඩය දාපු කෙනාගෙ හිතත් දන්නවා. එයාගෙ ප්‍රාර්ථනාවත් දන්නවා, ඒක ඉෂ්ට වෙනවද නැද්ද කියලත් දන්නවා, පාවඩයට පා තබන්න කලින්. අපේ ශාස්තෘන් වහන්සේ එවැනි වූ ඥාණයෙන් යුක්තයි. ඉතින් බුදුරජාණන් වහන්සේ දැක්කා මේ දෙදෙනා කලින් ජීවිතයක එක්තරා දූපතක කුරුල්ලො රකින බිත්තර සහ පැටව් ඒ අයට ආහාරයක් නැතිව ඒ දූපතකදින් ඒ අය කකා තමයි, කුරුළු පැටව් සහ කුරුල්ලො රකින බිත්තර කකා තමයි මේ ජෝඩුව ජීවත් වෙලා තියෙන්නෙ. ඒ දෙදෙනාම මේ ජීවිතේ අඹුසැමියන් වෙලා. අන් අයට දරුවන් අහිමි කලා කියලා යමක් ඇත්ද, මේ දෙදෙනාට දරුවන් ලැබෙන් නෑ. බුදුරජාණන් වහන්සේ වැඩියෙ නෑ, තුන් පාරක් ආරාධනා කලා ස්වාමීනී වඩින්න කියලා වැඩියෙ නෑ, බුදුරජාණන් වහන්සේ ආනන්ද ස්වාමීන් වහන්සේ දෙස බැලුවා. ආනන්ද ස්වාමීන් වහන්සේට භාග්‍යවතුන් වහන්සේ මුව මඩල සොළවන්නේ යමක්ද, ආනන්ද ස්වාමීන් වහන්සේට ඒක වැටහෙනවා. ආනන්ද ස්වාමීන් වහන්සේ බෝධිරාජ කුමාරයාට කිව්වා, රාජ කුමාරය, භාග්‍යවතුන් වහන්සේ ලෝකයට අනුකම්පායි, ඒ නිසා මේ පාවඩය මතින් වඩින් නෑ, පශ්චිම ජනතාව ගැනත් හිතනවා. ඒ නිසා ඔබ අකුලන්න මේ පාවඩය. පාවඩය ඇකුලුවා. භාග්‍යවතුන් වහන්සේ දානයට වැඩියා, දන් පැන් වැළඳුවා. දන් පැන් වළඳලා අවසානයේ බෝධිරාජ කුමාරයා බුදුරජාණන් වහන්සේට කියා හිටිනවා ස්වාමීනී මගේ හිතේ අදහසක් තියෙන්නේ සැපෙන් නම් සැප ලබන්න බෑ, දුක් විඳලාම තමයි සැප ලබන්න පුලුවන් වෙන්නෙ. ඊටපස්සෙ දැන් අදත් මිනිස්සුන්ගේ තියෙනවා. අදත් මිනිස්සුන්ගෙ තියෙන එකක් තමයි හාමුදුරු නමක් ගොඩාක් දුෂ්කරම නම් මිනිස්සුන්ට හිතෙනවා ඒ හාමුදුරුවෝ ගොඩාක් දියුණුයි කියලා. හාමුදුරු නමක් වාහනයක ගියොත්, හොඳට දානෙ වළඳලා හිටියොත්, මූණත් ටිකක් පෙනුමට තිබ්බොත් හිතන් නෑ, එතකොට හිතන්නෙ මේ හාමුදුරුවො ඔහේ කාලා බීලා ඉන්නවා. එතකොට මිනිස්සුන්ගෙ අදටත් ඒ අදහස තියෙනවා. සැප කියන එක උපද්දවන්න පුලුවන්නේ ලෝකෝත්තර දුකෙන්. සැපෙන් සැප ලබන්න බෑ කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් රාජකුමාරය, මටත් ඒ කාලෙ ඔය අදහස තිබ්බා. ඒ නිසා රාජකුමාරය, මං අම්මලා තාත්තලා අඬද්දිම මං කළු කෙස් තියෙන කාලෙ තරුණ ජීවිතේම ගිහි ජීවිතෙන් නික්මිලා අප්‍රමාණ වූ දුෂ්කරක්‍රියාවක් කලා කියලා දුෂ්කරක්‍රියාව විස්තර කලා. එතකොට පින්වතුනි

ඒ දුෂ්කරක්‍රියාව හරි පුදුම සහගතයි. බුදුරජාණන් වහන්සේ ගිහිල්ලා ඒ විදින දුක් කන්දරාව ශරීරය ඇටසැකිල්ලක් වෙනකල්, ඊටපස්සෙ උන්වහන්සේ ගවයන් ඉන්න තැනකට ගිහිල්ලා ඒ ගව පැටවු දාන මේවා අත්දෙක කකුල් දෙක බිම තියලා, ඒ ගව පැටවුන්ගේ අශුචි වළඳලා තියෙනවා. තමන්ගේ මලමුත්‍රා වළඳලා තියෙනවා. සොහොනෙ ගිහිල්ලා ඇටකටු හිසට තියාගෙන නිදාගෙන ඉඳලා තියෙනවා. ඇණ ගහපු ලෑලි වල නිදාගෙන තියෙනවා. නිරුවතින්, හිම වැටෙන රාත්‍රියේ නිරුවතින් සක්මන් කරලා තියෙනවා. මහා ගින්නෙ මහා අව්කාශ්ටකේ ගල්තලා මත වටේට ගිනි තියාගෙන, ගින්දර දාගෙන මැද කෙලෙස් තවලා තියෙනවා. සීතල නේරංජනා නදියේ හිම වැටෙන රාත්‍රියේ ගිහිල්ලා ගිලිලා තියෙනවා. ඒ වාගේ අප්‍රමාණ දුක් විඳලා තියෙනවා. පායන කාලෙ දූවිල්ල වැටෙන කාලෙ මුළු ශරීරයම අර ගහක පොතු ගැලවෙනවා වගේ දූවිලි තට්ටු. අනේ මේවා පිහදාන්න ඕන කියලා හිතිලා නෑ කීයනවා. අපිට පොඩි දාඩියක් දැම්මත් ඇඟ හෝදගන්න ඕන, පිහින්න ඕන කියලා හිතෙනවානෙ. ඇඟේ දූවිලි තට්ටු තියෙද්දින් පිහින්න හිතලා නෑ. මේ විදියට අප්‍රමාණ දුෂ්කරක්‍රියාවක් කලා. වීර්යය කලා, සක්මන් කලා, අප්‍රාණක ධ්‍යානය වැඩුවා. මේ විදියට ඉඳලා ඉඳලා අවසානෙට තේරුනා මේකේ කිසී තේරුමක් නෑ, තේරුමක් නෑ කියන්නෙ මේ ගත්තු වීර්යයෙන් මට අවබෝධ ඥාණයකට යන්න බැරිවුනානේ කියලා සිහිකරනකොට තමයි ආනාපානාසති භාවනාව මතක් වුනේ වප්මගුල් දවසේ. ඊටපස්සෙ වප්මගුල් දවසේ සිහි කරපු භාවනාව ගැන සිහි කරලා උන්වහන්සේ භාවනා කරන්න හදනකොට කය ශක්තිමත් මදි. ආයෙ පිණ්ඩපාතෙ ගියා. පිණ්ඩපාතෙ වඩිනකොට පස්වග භික්ෂූන් වහන්සේලා අතහැරලා ගියා. උන්වහන්සේ තනියෙන් නේරංජනා නදියෙන් එතෙර වෙලා ගයාවේ වජිරාසන මත උන්වහන්සේ දස මාර සේනා පරාජයට පත් කරලා ලොව්තුරා සම්බුදු බවට පත්වුනා. සත්සතියක් ගත කරපු බුදුරජාණන් වහන්සේ එතනින් සහම්පති බ්‍රහ්මරාජයාගේ ආරාධනාවත් පෙරටු කරගෙන උන්වහන්සේ බාරාණසියේ ඉසිපතනයේ ධර්ම දේශනා කරන්න වැඩියා. උන්වහන්සේ ධර්ම දේශනා කලාට පස්සෙ පස්වග භික්ෂූන් වහන්සේලා පළවෙනි ධර්ම දේශනාවෙන්ම කොණ්ඩඤ්ඤයන් වහන්සේ සෝතාපන්න වුනා. ඊළඟට දෙන්නෙක්ට අවවාද කරනවා බුදුරජාණන් වහන්සේ මෙතන දේශනා කරනවා පින්වත් රාජ කුමාරය, මං භික්ෂූන් වහන්සේලා දෙනමකට අවවාද කරනවා, එතකොට භික්ෂූන් වහන්සේලා තුන් නමක් පිණ්ඩපාතෙ වඩිනවා. ඒ භික්ෂූන් තුන් නම පිඬු පිණිස හැසිර යමක්

රැගෙන එනවාද එයින් තමයි අපි හයදෙනාම යැපෙන්නෙ. පින්වත් රාජ කුමාරය, මම භික්ෂූන් තුන් නමකට අවවාද කරනවා ඊළඟ දවසේ, එතකොට භික්ෂූන් දෙනමක් පිණ්ඩපාතෙ වඩිනවා. ඒ භික්ෂූන් දෙනම පිඬුසිඟා හැසිර යමක් රැගෙන එනවාද, එයින් අපි හයදෙනාම යැපුනා. පුංචි දේකින් යැපිලා තියෙන්නෙ. මෙසේ පින්වත් රාජ කුමාරය, ඒ පස්වග භික්ෂූන් වහන්සේලාට මං ඔය විදියට අවවාද කරද්දි, අනුශාසනා කරද්දි යම් අර්ථයක් උදෙසා කුලපුත්‍රයන් මනාව ගිහිගෙයින් නික්ම පැවිදි වෙනවා නම් අන්න ඒ අර්ථය උතුම් අර්හත්ව අනාත්මලක්ඛණ සූත්‍ර දේශනාව ශ්‍රවණය කරලා ලබාගත්තා. ලෝකෙට හාහාපුරා කියලා පළවෙනි වතාවට රහතන් වහන්සේලා පස්නමක් මිහිමඩලේ පහළවුනා. පින්වතුනි මෙහෙම ධර්මය අවබෝධ කලා මේ ලෝකයේ සත්ත්වයා කියලා කියනකොටම බෝධිරාජ කුමාරයා කියනවා, ස්වාමීනී දැන් ඔබවහන්සේගේ නායකත්වයෙන් යුතුව, භාග්‍යවතුන් වහන්සේගේ නායකත්වයෙන් යුතුව, ඔය විදියට ධර්මය දේශනා කරනකොට ඔය දැන් ධර්මය අවබෝධ කලානෙ. ඔය විදියට ඔබ වහන්සේ වෙනුවෙන් මහණ වෙන සියලු දෙනාම නිවන් දකිනවාද. ඔය මහණ වෙන ඔක්කෝම නිවන් දකිනවාද? හරි ලස්සන ප්‍රශ්නයක්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා රාජකුමාරය, ඔබ, ඔබගෙන් මං මෙහෙම අහන්නම්. ඒ අහන දේට ඔබට පුලුවන් විදියට උත්තර දෙන්නකො. ඔබ ඇත්තු දමනය කරන කෙනෙක් නේද. එතකොට බෝධිරාජ කුමාරයා ඇත්තු දමනයෙහිලා අතිශයින් දක්ෂ මේ බෝධිරාජ කුමාරයාට ඇත්තු දමනය කරන්න පුලුවන් මන්ත්‍රයක් තිබ්බා. ඒකට කියන්නෙ හස්තිකාන්ත මන්ත්‍රය කියලා. ඕනම ඇතෙක් දමනය කරනවා. වීණාවකින් ඒක කරන්නෙ. ඇතා ගෙන්නත් පුලුවන් ඒ මන්ත්‍රය කියලා වීණා වාදනය කර කර, ඇතා යවන්නත් පුලුවන්. තමන්ට දණ ගස්සවන්නත් පුලුවන්, ඇතාගෙ ඇඟට අත තියන්නැතිව වීණාව වාදනය කර කර එයාව දමනය කරනවා. ඒක හස්තිකාන්ත මන්ත්‍රය සක්දෙවිඳුගෙන් ඍෂිවරයෙකුට ලැබිච්චි එකක්. ඊටපස්සෙ කිව්වා ඇතුන් දමනය කරන්නට - දැන් ඊටපස්සෙ බෝධිරාජකුමාරයා ගාව ඒක තියෙනවා නමුත් මේ බෝධිරාජ කුමාරයා මේ මනුස්සලෝකයේ තියෙන අනික් ශිල්ප ක්‍රම මන්ත්‍ර ක්‍රම හැම එකකින්ම ඇත්තු දමනය කරන ක්‍රම අන් අයට පුරුදු කරනවා. එහි ලා බෝධිරාජ කුමාරයා ප්‍රසිද්ධයි - කිව්වා ඉතින් ඔබ දක්ෂයි නේද. අනේ ස්වාමීනී මට පුලුවන් හොඳට ඇත්තු දමනය කරන්න. එහෙනම් බෝධිරාජ කුමාරය, ඔබළඟට කෙනෙක් ඉන්නවා ඇතුන්ගේ පිට නගින, ඇතුන්ගෙන් බහින, හෙණ්ඩුවෙන් දමනය කරන

ඔය ශිල්ප ඉගෙන ගන්න කෙනෙක් එනවා. හැබැයි එයා ශ්‍රද්ධාවන්ත නෑ, ඒ කියන්නෙ එයා විශ්වාස කරන්නෑ ශිල්පය වත්, පුද්ගලයාවත් විශ්වාස කරන්නෑ ගුරුවරයාවත්. එතකොට විශ්වාසයක් නැතිව ඒ ශිල්පයෙන් ගන්න පුලුවන් ප්‍රායෝජනය එයාට ගන්න පුලුවන්ද. එහෙම නැතිව එයා නිතරම ලෙඩවෙනවා. ඔන්න පළවෙනි එක තමයි ශ්‍රද්ධාව නෑ, දෙවෙනි එක තමයි ලෙඩ වෙනවා. නිතර ලෙඩ වෙනවා මෙයාට කණ බොන දේවල් හරියට දිරවන් නෑ. ඊට‍පස්සෙ එයා හරි සටකපට මායම්. ඒ මනුස්සයා හොඳ එක්කෙනෙක්ද නරක එක්කෙනෙක්ද හොයාගන්න බෑ ඔහේ බකන්නිලාගෙන ඉන්නවා. සමහර අය අපිට වුනත් තේරෙනවා අපි ළඟට එන කෙනෙක් වුනත් ගුප්ත වුනොත් එහෙම එයාගෙ චරිතය හොයාගන්න බෑ අපිට. ඉතින් අහනවා බෝධිරාජ කුමාරය, කෙනෙක් සටකපටමායම් වුනොත් එයාගේ චරිතය හොයාගන්න බෑ මායාකාරියි. කපටියි. කට්ට කෙරාටිකයි. එහෙම වුනාට පස්සෙ ඒ වාගේ අයට හොඳට ශිල්පය දෙන්න පුලුවන්ද? ඊට‍පස්සෙ ඇහුවා, තව එක්කෙනෙක් ඉන්නවා කුසීතයි, ඒකා බුදියාගත්ත ගමන්. හීන වගේ. කිසී උවමනාවක් නෑ, ඔහේ වැනි වැනී ඉන්නවා. ඒ වගේ කෙනාට සීලය දෙන්න පුලුවන්ද. ඊට‍පස්සෙ කිව්වා එයා දුශ්ප්‍රාඥයි, ඒ කියෙන්නෙ එයාට නුවණින් කටයුතු කරන්න බෑ, මේ වෙලාවට මේක ඕන, මේ වෙලාවට මේක ඕන කියලා තේරෙන්නෑ, දුශ්ප්‍රාඥයි, මන්දබුද්ධික වගේ. ඉතින් ඔබට මේ අයට පුලුවන්ද ඔබගේ ශිල්පය දෙන්න. ඊට‍පස්සෙ කියනවා අනේ ස්වාමීනී ඔය අංග පහ ඕන නෑ ඔයින් එකක් තිබ්බත් ශිල්පය දෙන්න බෑ, එයාට පිහිටන් නෑ ශිල්පය. විශ්වාසය නැතිවුනත් ශිල්පය ගැන හෝ ගුරුවරයා ගැන බෑ, එයාට ශිල්පය පිහිටන් නෑ. ඊට‍පස්සෙ ලෙඩවැඩි චරිතයක් වුනොත් එයාට ශිල්පයෙන් ප්‍රයෝජන ගන්න බෑ. එයාට බෙහෙත් කර කරම ඉන්න වෙනවා. ඊට‍පස්සෙ සටකපට මායම් වුනොත් මායාකාරී කෙනාට ශිල්ප පිහිටන් නෑ, ඊට‍පස්සෙ එයා කුසීත නිදිමතේ ඔහේ ඉන්න වීර්යයක් නැති චරිතයක් වුනොත් එයාටත් පිහිටන්නෑ, ඊට‍පස්සෙ කිව්වා දුශ්ප්‍රාඥ වුනොත් එයාටත් ශිල්පය පිහිටන් නෑ. ඉතින් බුදුරජාණන් වහන්සේ අහනවා හෙණ්ඩුවෙන් හැසිරීමෙහි ලා ශිල්පයෙහි දක්ෂ ඔබට, ඕක ඉගෙන ගන්න කෙනෙක් එනවා එයා හරි ශ්‍රද්ධාවන්තයි. හරී විශ්වාසයි. ගුරුවරයා ගැනත් විශ්වාසයි, ශිල්පය ගැනත් විශ්වාසයි, හොඳ විශ්වාසයක් තියෙනවා. ශ්‍රද්ධාව. ඊළඟට එයාට තියනවා නිරෝගීයි ලෙඩ නෑ, ඕන වැස්සකට, අව්වකට ඕන දේකට ඔරොත්තු දෙනවා එයා. කෑම පොඩ්ඩක් තිබ්බත් ගොඩක් තිබ්බත් කෑඳ බීලා හරි ඒ මනුස්සයා හරී නිරෝගීයි. කන බොන දේවල් හොඳට දිරවනවා.

අජීර්ණ නෑ. ඊළඟට බෝධිරාජ කුමාරය එයා සටකපට මායම් නෑ විවෘතයි. තේරෙන්නැති දේ නෑ කියලා කියනවා, පුලුවන් දේ පුලුවන් කියනවා. දන්න දේ දන්නවා කියනවා. නොතේරෙන දේ නොතේරෙනවා කියනවා. මගේ චරිතය මෙහෙමයි කියලා ඇතුල ප්‍රකට කරවනවා. ඊටපස්සෙ රාජකුමාරය එයා හරි වීර්යවන්තයි, ඕන උදේක නැගිටිනවා, සීතලකට කම්මැලි නෑ. එකදිගට දැන් මේක කරගෙන යමු කියනකොට ඕන දිගකට වැඩ කටයුතු කරගෙන යනවා පසුබාන් නෑ, ඊළඟට රාජකුමාරය මෙයා හොඳ ප්‍රඥාවන්තයි, හොඳට තේරෙනවා. යමක් කමක් කරන්න. නුවණින් තේරෙනවා මේ වෙලාවට මේක කරන්න ඕන, මේ වෙලාවට මේක කරන්න ඕන කියලා. ඉතින් රාජකුමාරය ඔබට මෙයාට ශිල්පය දෙන්න පුලුවන්ද. අනේ ස්වාමීනී, ඔය පහම ඔය විදියට ඕන කියලා එකක් නෑ, එකක් තිබ්බත් පුලුවන් කිව්වා මෙයාට උගන්වන්න. එකක් තිබ්බත් පුලුවන්. පින්වත් රාජ කුමාරය, ඔය විදියම තමයි ප්‍රධාන වීර්යය ඇතිවීම පිණිස අංග පහක් තියෙනවා. පධානවීර්යය ඇතිවීම සඳහා අංගපහක් තියෙනවා. මේකට කියනවා පධානිඅංග පහ. ඒ කියන්නෙ නිවන් දකින්න මූලික වන කරුණු පහ. මේ පහ නැති වුනොත් නිර්වාණය අවබෝධ කරන්න බෑ. ඒ පහ තමයි බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පින්වත් රාජ කුමාරය, මෙහි ලා භික්ෂුව ශ්‍රද්ධාවන්ත කෙනෙක් වෙන්න ඕන. ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේ අරහං වන සේක, සම්මා සම්බුද්ධ වන සේක, විජ්ජාචරණ සම්පන්න වන සේක. සුගත වන සේක, ලෝකවිදූ වන සේක, අනුත්තර පුරිසදම්ම සාරථී වන සේක, සත්තා දේවමනුස්සානං වන සේක. බුද්ධ වන සේක. භගවා වන සේක. කියලා හොඳට බුදුරජාණන් වහන්සේගේ බුදු ගුණ තේරුම් අරන් තේරුම් අරන් හොඳට ශ්‍රද්ධාව තියෙන්න ඕන. ශ්‍රද්ධාව තියෙන කෙනාට නිවන් දකින්න පුලුවන්. මේ බුදුරජාණන් වහන්සේනෙ දේශනා කරන්නෙ. මේ නිවන් මාර්ගය මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය මේ ප්‍රතිපදාව හොඳට පුරුදු කරන්න පුලුවන් කියනවා ශ්‍රද්ධාව තිබ්බ තරමට. ශ්‍රද්ධාව තියෙන කෙනා දුක් කෙළවර කරනවා. දැන් මේ බලන්නකො බුද්ධ වචනනෙ මේ තියෙන්නෙ. එච්චර ශ්‍රද්ධාව වටිනවා පින්වත්නි. එච්චර වටිනවා. දැන් බලන්න අනිත් ගුණධර්ම ගැන. සීලය ගැනවත් මහා ගැඹුරින් හිතන දෙයක්වත් ඒ මොකක්වත් කියන් නෑනෙ, ශ්‍රද්ධාව ඕන කියනවා මේකට නිවන් දකින්නට. ඊටපස්සෙ දේශනා කරනවා ඒ වගේම අල්ප ආබාධ ඇති බව. දුක් අඩු කෙනෙක්, ඉතා සීත නොවූ, ඉතා උෂ්ණ නොවූ, මධ්‍යස්ථ වූ ප්‍රදං වීර්යයට සරිලන පරිදි සමසේ දිරවන ග්‍රහණියකින් යුතු වෙන්න ඕන කියනවා. නිරෝගී කයක් දිරවන ශරීරයක් වෙන්න ඕන ආහාර. ඇත්තටම

අද කාලෙ තියෙන එකක් තමයි මිනිස්සුන්ට ආහාර සුවසේ දිරවන් නෑ, නිරෝගී කයක් නෑ. එක්කො මහා පත ශරීරයක් තියෙනවා ලෙඩ. එක්කො කෙට්ටු ශරීරයක් තියෙනවා ලෙඩ. එක්කො කොලෙස්ට්‍රෝල්, එක්කො ප්‍රෙෂර්, එක්කො මොකක්හරි ගැස්ට්‍රයිටිස්, මොකක් හරි ලෙඩ ගොඩක්. මේ ශරීරයේ රෝගී තත්ත්වය එයාට නිවන් මාර්ගය පුරුදු කරන්න බාධා කරනවා. එහෙනම් ශ්‍රද්ධාවත් ඕන, නිරෝගී කමත් ඕන, ඊළඟට තමයි කියනවා භික්ෂුව සට නැති කෙනෙක්, මායා නැති කෙනෙක් තම ශාස්තෘන් වහන්සේට හෝ නුවණැති සබ්‍රහ්මචාරීන් වහන්සේලාට හෝ තමන්ගේ සැබෑ ස්වභාවය ප්‍රකට කරවන කෙනෙක් වෙන්න ඕන. සටකපට මායම් නැතිව තමන්ගෙ ඇත්ත, ස්වාමීනී මට මේක බෑ. ස්වාමීනී මට මේක තේරෙන්නෑ, ස්වාමීනී මම දුර්වලයි, ස්වාමීනී මගේ හිතේ මේ වගේ කෙලෙස් ඇති වෙනවා. මේ වගේ දුර්වලතා තියෙනවා කියලා තමන්ගේ ඇතළ ප්‍රකට කරවන්න ඕන, හංගගෙන ඉන්නැතිව. ඒ වගේ අයට බලන්න විවෘත වෙනවා කියන එක බුද්ධ ශාසනයේ මාර්ගඵල ලබන්න ප්‍රධාන හේතුවක්. හංගා ගැනීම කියන්නෙ බුද්ධ ශාසනයේ පිහිට එහේම්ම පිටින්ම නැති කරලා දානවා, මායාව. ඇතුල ප්‍රකට කරන්න ඕන. ඊළඟට තියෙනවා භික්ෂුව පටන් ගත්ත වීර්යයෙන් යුක්ත කෙනෙක් වෙන්න ඕන. අකුසල් දුරු කරන්න, කුසල් උපදවා ගැනීම පිණිස දැඩි වූ වීර්යයක් තියෙන්න ඕන. පරාක්‍රමයක් තියෙන්න ඕන. කුසල් දහම්හි අත්නොහරින වීර්යයක් තියෙන්න ඕන. ඒ කියන්නෙ අකුසල් ප්‍රහාණය කරන්න, කුසල් උපදවන්න හොඳ පුහුණුවක්, හොඳ හැකියාවක්, එක දිගට කරගෙන යන්න පුලුවන් වෙන්න ඕන. පසුබාන් නෑ, වැටෙන් නෑ. එයාට අපහසු දේවල් ආපහු එයා කරගෙන යනවා. වැටෙන්න වැටෙන්න එයා නැගිටිනවා. මේක තමයි ඒකෙ ස්වභාවය. ඊළඟට තියෙනවා ප්‍රධානි අංග වලින් - ඒ හතරවෙනි එක - පස්වෙනියෙන් ප්‍රධාන අංගය තමයි ආර්යය වූ කළකිරීමට නිසි වූ මනාව දුක් ක්ෂය කරන්නා වූ අනිත්‍යය අවබෝධය ඇති කරන්නා වූ ප්‍රඥාවෙන් යුක්ත වෙනවා. හොඳ ප්‍රඥාවන්ත බවක්. ඒ කියන්නෙ හටගැනීම වැනසීම ගැන තේරෙන අනිත්‍යය ස්වභාවය තේරෙන හොඳට යමක් තේරුම් ගන්න පුලුවන්, ප්‍රඥාවක් ඕන. එතකොට ඕවට තමයි ප්‍රධානි අංග කියන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මේ ප්‍රධානි අංග තිබ්බොත් එයාට නිර්වාණ අවබෝධය හරී පහසු විදියට වෙනවා කියලා. ඒ තමයි, ශ්‍රද්ධාව, ඊළඟට ආහාර දිරවන නිරෝගී ශරීරය, ඊළඟට සටකපට මායම් නැති බව, ඊළඟට වීර්යය, ඊළඟට ප්‍රඥාව. මේ පහට කියනවා පධානිඅංග පහ කියලා. හොඳට මතක තියාගන්න. ඉතින්

රාජකුමාරය මේවා තමයි මාර්ග ඵල අවබෝධය පිණිස හේතුවෙන අංග වෙන්නෙ. ඉතින් මම බුදුරජාණන් වහන්සේ නමක් විදියට මේ විදියට, මේ අංග පහ තියෙන කෙනෙක් මං ළඟට ආවොත්, මොනවද ඒ අංග පහ, ශ්‍රද්ධාව, ඊළඟට නිරෝගී ශරීරයක් තියෙන ආහාර දිරවන ශරීරයක්, ඊළඟට සටකපට මායම් නැති, ඊළඟට වීර්යයවන්ත, ඊළඟට ප්‍රඥාවන්ත. මේ ගුණ පහ තියෙන කෙනෙක් මං ළඟට ආවොත් බෝධිරාජ කුමාරය, මම ධර්මය දේශනා කරනවා එයාට නොබෝ කලකින්ම ධර්මය අවබෝධ කරන්න පුලුවන්. අවුරුදු හතක් ඇතුලත පුලුවන් කිව්වා. අවුරුදු හතක්. පින්වත් රාජකුමාරය, ඔය අංග පහ තිබෙනවානම් ඔය පංචුපධානීඅංග, අවුරුදු හතක් ඕන නෑ, අවුරුදු හයෙන් පුලුවන් කිව්වා. ඉතින් රාජකුමාරය ඔය පධානීඅංග තියෙනවා නම් අවුරුදු හයකුත් ඕන නෑ. අවුරුදු පහෙන් පුලුවන් කිව්වා. රාජකුමාරය ඔය ශ්‍රද්ධා, ඊළඟට නිරෝගී ශරීරය, ඊළඟට සටකපට මායම් නැති බව, ඊළඟට වීර්යය, ඊළඟට ප්‍රඥාව කියන පංචුපධානීඅංග තියෙනවා නම් අවුරුදු පහක් ඕන නෑ, අවුරුදු හතරෙන් මාර්ගඵල අවබෝධ කරනවා කිව්වා. අවුරුදු හතරක් ඕන නෑ තුනෙන් මාර්ගඵල අවබෝධ කරනවා කිව්වා. තුනක් ඕන නෑ, දෙකකින් මාර්ග ඵල අවබෝධ කරනවා. දෙකක් ඕන නෑ අවුරුද්දකින් මාර්ගඵල අවබෝධ කරනවා. අවුරුද්දක් ඕන නෑ මාස හතක් ඇති. මාස හතක් ඕන නෑ මාස හයක්, මාස පහක්, මාස තුනක්, මාස දෙකක්, මාසයක්, අර්ධ මාසයක්, අනේ එයද තිබ්බේවා, ඔය ප්‍රධානිඅංග පහ තියෙනවා නම් ශ්‍රද්ධාවයි, ඊළඟට නිරෝගී ශරීරය ආහාර හොඳට දිරවන, ඊළඟට සටකපට මායම් නැති බව, ඊළඟට වීර්යවන්ත බව, ප්‍රඥාව මෙන්න මේ පහ තියෙනවා නම් මේ රාජකුමාරය, දවස් හතක් ඇති. දවස් හතකුත් ඕන නෑ, දවස් පහක්, හයක්, හතරක්, ඊළඟට තුනක්, දෙකක්, එකදවසක්, කියනවා එක්රෑ දවාලක් ඇති. රාජකුමාරය, එක් රෑ දවාලක් තිබ්බේවා, මේ පංචුප්‍රධානීඅංග වලින් සමන්විත භික්ෂුවක් සිටිනවා නම් ලොවට නායකත්වය දෙන තථාගතයන් වහන්සේගේ ඇසුර ලබන ඒ භික්ෂුවට සවසට අනුශාසනාව ලැබෙනවා, පහුවදා උදේ වෙනකොට විශේෂ අධිගමයකට පත්වෙලා එයා. උදේට මං අවවාද කරනවා, හවස් වෙනකොට මාර්ගඵල අවබෝධ කරනවා. කොහොමද ඒ අංග පහ තිබ්බොත්. ශ්‍රද්ධාව කියන එක කොච්චර වටිනවාද. නිරොගීකම කොච්චර වටිනවාද. ඊළඟට විවෘත බව කොච්චර වටිනවාද. ඊටපස්සෙ වීර්යය කොච්චර වටිනවාද. ඊළඟට ප්‍රඥාව නුවණ කොච්චර වටිනවාද. ඉතින් මෙහෙම වදාළ විට බෝධිරාජ කුමාරයා, අහෝ බුදුරජාණන් වහන්ස ඒකාන්තයෙන් අච්චරියං වතබෝ භන්තේ භගවා,

අච්චරියං සුගත, සුගතයන් වහන්සේ ආශ්චයයීයි. සවස අනුශාසනාව ලබාදෙනකොට උදේට මාර්ගඵල ලබනවානම්, උදේට අවවාද කරනකොට හවස්වෙනකොට මාර්ගඵල ලබනවානම් ආශ්චයයී අද්භූත ශාසනයක්නේ මේක කිව්වා. එතකොට ළඟ හිටියා බෝධිරාජකුමාරයාගේ යාළුවෙක්, සංජිකාපුත්‍ර කියලා. ඒ සංජිකාපුත්‍ර කියන මානවකයා, බෝධිරාජ කුමාරයාට කියනවා, දැන් පින්වතුනි බලන්න, අපි දැන් මේ වැඩසටහනම, මේ බෝධිරාජ සූත්‍රයම මං මේ දහම් වැඩසටහනේ හතරක් විතර කලා. එකම සූත්‍රය වැඩසටහන් හතරක විතර කොටස් වශයෙන් කළේ. එතකොට බලන්න, බලන්න පින්වත්නි, එතකොට බුදුරජාණන් වහන්සේ දානෙ වළඳලා මෙච්චර මේ පැය ගාණක් ගිහි, රාජකුමාරයෙකුට මේ ධර්මය දේශනා කරනවානෙ. ඇයි භාග්‍යවතුන් වහන්සේ මෙච්චර මහන්සි වෙන්නෙ. රහතන් වහන්සේලා පිටිපස්සෙන් වැඩ ඉන්නවා. ආනන්ද ස්වාමීන් වහන්සේ වැඩ ඉන්නවා. ඒ සියලුදෙනා මේ වැඩඉඳලා මේ ධර්මය දේශනා කරන්නෙ ඇයි. දැන් ඔන්න අවසානෙට කිව්වා, බුදුරජාණන් වහන්සේ නම් ආශ්චයයීයි. මේ ධර්මය නම් ආශ්චයයීයි. එහෙම කියලා පැහැදුනානෙ මෙයා. එතකොට ළඟ හිටපු සංජිකාපුත්ත කියනවා, බෝධිරාජ කුමාරය, ඔබත් බුදුරජාණන් වහන්සේ ආශ්චයයීයි, ආශ්චයයීයි කිය කියා ඉන්නවා. මෙච්චර දහම් දේශනා කරපු වෙලාවක හඬ නගලා කියන්නකො මම දිවි හිමියෙන් බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා තෙරුවන් සරණ යන්නකො කිව්වා. එතකොට බලන්න බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරපු අරමුණ මෙතන. මෙයාගෙ හිතේ ඇතිවෙන පැහැදීම සහ සරණ. එතකොට බෝධිරාජ කුමාරයා කිව්වා, ප්‍රිය මිත්‍ර සංජිකාපුත්‍ර ඔහොම කියන්න එපා. මම අහලා තියෙනවා, මගේ අම්මා ඒ දවස්වල බුදුරජාණන් වහන්සේ වැඩ හිටියේ කොසඹෑ නුවර, ඝෝෂිතාරාමයේ. එතකොට අපේ අම්මා ගර්භනී වෙලා. මම කුසේ. එතකොට මගේ අම්මා බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහන්න ගිහිල්ලා ධර්මයේ පැහැදිලා බුදුරජාණන් වහන්සේ ඉදිරියේ කියා හිටියා, මගේ කුසේ ඉන්න දරුවා දුවෙක්ද, පුතෙක්ද කියලා මම දන්නෑ, නමුත් මේ කුසේ ඉන්න දරුවා, දිවි හිමියෙන් බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ධර්මය සරණ යනවා, සංඝරත්නය සරණ යනවා කියලා මාව තුණුරුවන් සරණ යැව්වා. ඉතින් මං කුසේ ඉද්දින් කිව්වා තෙරුවන් සරණ ගියෙ. ඊටපස්සෙ කිව්වා ප්‍රියමිත්‍ර සංජිකාපුත්‍ර, ඒ විතරක් නෙවෙයි බුදුරජාණන් වහන්සේ ඒ කාලේ වැඩහිටියේ

සුංසුමාර්ගයේ වේසකලා වනයේ, එතකොට මගේ කිරි අම්මලා, මට කිරිපොවන අම්මලා මාව, චූටි බබා වඩාගෙන ගිහිල්ලා බුදුරජාණන් වහන්සේගෙන් බණ අහලා පැහැදිලා බුදුරජාණන් වහන්සේ ඉදිරියේ මාව තියාගෙන කිව්වා ස්වාමීනී, භාග්‍යවතුන් වහන්ස මේ බෝධිරාජ කුමාරයා, බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ධර්මය සරණ යනවා, සංඝරත්නය සරණ යනවා, දිවිහිමියෙන් තෙරුවන් සරණ ගිය උපාසකයෙක් විදියට මේ බෝධිරාජ කුමාරයා ගැන දරාගන්න කියලා බුදුරජාණන් වහන්සේ ඉස්සරහා මාව පුංචි කාලෙම සරණ යැව්වා. කියනවා ප්‍රිය මිත්‍ර සංජිකාපුත්‍රයෙනි, ඒ මං තුන්වෙනි වතාවටත් අද ඒ භාග්‍යවතුන් වහන්සේ සරණ යනවා, ශ්‍රී සද්ධර්මය සරණ යනවා, ආර්ය මහා සංඝරත්නය සරණ යනවා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අද පටන් දිවිහිමියෙන් තෙරුවන් සරණ ගිය උපාසකයෙක් ලෙස මාව පිළිගන්නා සේක්වා කියලා තෙරුවන් සරණ ගියා. පැය ගාණක් බුදුරජාණන් වහන්සේ ඒ සම්බුදු දිවිය විස්තර කලේ කුමක් පිණිසද? තෙරුවන් සරණ යෑම පිණිස. ඒ තෙරුවන් සරණ යෑම ඒ සා විපාකයි. දැන් බලන්න පින්වතුනි, දැන් මෙතන තමයි බෝධිරාජ කුමාරයා කරගත්ත ලොකුම පින තියෙන්නෙ දැන්. වේලාම සූත්‍රයේ තියෙනවා, බුද්ධ ප්‍රමුඛ, බුදුරජාණන් වහන්සේ ප්‍රමුඛ සියලුම රහතන් වහන්සේලාට, සියලුම රහත් මෙහෙණින් වහන්සේලාට බුද්ධ ප්‍රමුඛ මහා සංඝරත්නයට භික්ෂු භික්ෂුණී දානයක් දෙනවා කෙනෙක්. හිතන්නකො කොහොමද ඒ දානය කියලා. හිතාගන්න පුලුවන්ද අපිට. සැබෑ බුදුරජාණන් වහන්සේටයි, සැබෑම සාරිපුත්ත මොග්ගල්ලාන මහාකාශ්‍යප ආනන්ද නන්ද රාහුල අංගුලිමාල ආදී උත්තමයන් වහන්සේලාට දානයක් දෙනවා නම්, මහාප්‍රජාපතී උත්තමාවිය, යශෝධරා උත්තමාවිය, ඛේමා උත්පලවණ්ණා, පටාචාරා ආදී මහරහත් මෙහෙණින්වහන්සේලා ඒ සියලු දෙනාට ජීවමානව දානයක් දෙනවා කියලා හිතන්න, සමහරවිට ඔයාලා දැන් විදේශ රටක ඉන්න කෙනෙක් නම්, බුදුරජාණන් වහන්සේ ප්‍රමුඛ රහතන් වහන්සේලා ඔක්කෝටම දානයක් දෙනවා කියලා ආරංචි වුනොත් මොන රටේ මොන ලෝකෙ ඉඳලා හරි ටිකට් දාගෙන එන්නැද්ද, මං කිව්වෙ අද කාලෙ වුනා නම්. එනවද නැද්ද. සකල දේවල් අත්හැරලා, සමහර විට තියෙන දේවල් හැම එකක්ම විකුණලා දානෙට උදව් වෙනවානෙ. දැන් බලන්න පහුගිය දවස්වල මිනිස්සුන්ට උදව් කරද්දි මිනිස්සු පිටරට ඉඳලා සල්ලි එවනවා. මේ එක අම්මා කෙනෙක් කණකර විකුණලා එළවලු ලොරියක් එවලා තිබ්බා ඒ සල්ලි වලින්. එතකොට එහෙම මිනිස්සු එවනවානෙ. එතකොට බුදුරජාණන් වහන්සේ ඇතුළු මහා රහතන්

වහන්සේලා භික්ෂු භික්ෂුණී සියලු දෙනාට දානයක් දෙනවා කිව්වොත් කොහොමද, බුදුරජාණන් වහන්සේ වදාළා ඊට වැඩිය මහත්ඵලයි, මහානිසංසයි බුදුරජාණන් වහන්සේ සරණ යන එක. ධර්මය සරණ යන එක. සංඝයා සරණ යන එක. ඒවට සල්ලි ඕන නෑ, ඒකට ඕන හදවත. මිනිස්සු පුරුදු වෙලා තියෙන්නෙ හැම එකක්ම සල්ලිවලින්. මහන්සියට. නමුත් බුදුරජාණන් වහන්සේ සරණ යන එක, ධර්මය සරණ යන එක, සංඝරත්නය සරණ යන එක, තෙරුවන් සරණ යන එක, බුද්ධ ප්‍රමුඛ මහා සංඝරත්නයට දානයක් දෙනවාට වැඩිය, කුටියක් හදනවාට වැඩිය, විහාරයක් හදනවාට වැඩිය, ආරාමයක් හදනවාට වැඩිය, තෙරුවන් සරණ යන එකම මහත්ඵලයි, මහානිසංසයි කියලා බුදුරජාණන් වහන්සේ වදාළා. එහෙනම් ඔයාලට මේ අපි කරුණු කියන්නේ යොමු කරවන්නේ සුලු දේකටද. මේ බලන්න තෙරුවන් සරණ ගියානෙ. ඔබ මොහොතකට හිතන්න, පින්වතුනි. දේවදත්ත. දේවදත්ත මහණ කලේ ඇයි කියලා අහනවානෙ මිලින්ද රජ්ජුරුවෝ නාගසේන මහරහතන් වහන්සේගෙන්. ඇයි බුදුරජාණන් වහන්සේට පේනවා නම් හැමදෙයක්ම, දැන් මේ දාපු පාවඩෙත් මොන අදහසින්ද දැම්මේ කියලා බුදුරජාණන් වහන්සේට පේනවානෙ. එහෙව් එකේ දේවදත්ත මහණ කරනකොටම බුදුරජාණන්වහන්සේ දන්නවානේ මේකා නාලාගිරියා එවනවා, මේකා දුනුවායො එවනවා, මේකා ගල පෙරලනවා, ආනන්තරිය පාපකර්මය කරගන්නවා, මහපොළොව පලාගෙන අපායෙ යනවා. මේවා ඔක්කොම පෙනි පෙනී තියෙද්දි මොකටද මහණ කලේ? සංඝ භේදය කරනවා. එතකොට නාගසේන මහරහතන් වහන්සේ දේශනා කරනවා, රජතුමනි, බුදුරජාණන් වහන්සේ මේ දේවදත්ත මහණ කලේ, දේවදත්ත කොහොමටත් පව් කරනවා කියනවා. ගිහි ජීවිතේ හිටියත් සසරේ හරියට පව් කරගෙන කල්ප ගණන් නිරයේ යන්න තියෙන චරිතයක් කියනවා ඔය දේවදත්ත. නමුත් මේ දේවදත්ත බුදුරජාණන් වහන්සේ ළඟ පැවිදිවීම නිසා පොළොව පලාගෙන යනකොට බුදුරජාණන් වහන්සේව සරණ යනවා මේ දේවදත්ත. අන්න ඒ දේවදත්ත බුදුන් සරණ යනවා දැකලා තමයි බුදුරජාණන් වහන්සේ අච්චර කරදර ටිකක් තමන්ට එද්දිත් ඒවට මුහුණ දෙන්න හිත හදාගෙන, බුදුරජාණන් වහන්සේ ඒවට මුහුණ දෙමින් දේවදත්තට ඒ පිහිට දුන්නෙ තෙරුවන් සරණ යනවා දැකලා. දැන් ඒකට දැන් තියෙනවා පින්වතුනි, ඒ දේවදත්ත මැරෙන මොහොතේ, පොළොව පලාගෙන යද්දි කියපු ගාථාව තියෙනවා. ඒ ගාථාව තමයි දැන් දේවදත්තට අවසාන කාලේ ගයාශීර්ෂයේ ඉඳිද්දි බුදුරජාණන් වහන්සේ ගැනම මතක් වුනා, වැරදි තේරෙන්න ගත්තා.

ඊටපස්සෙ ඇඳෙන් බහින්න බෑ, මලමූත්‍රා කරගෙන දේවදත්ත ඇඳේ ඉන්නෙ. ඉතින් දේවදත්තටත් උපස්ථාන කරන කට්ටිය ඉන්නවා. ඉතින් දේවදත්ත කිව්වා මාව දෙව්රම්වෙහෙරට අරන් පලයන්. ඊටපස්සෙ හතරදෙනෙක් උන්වහන්සේලා දේවදත්තව උස්සාගෙන කරේ තියාගෙන, ඇඳ පිටින් ගියා. අම්මේ හිතන්න ගයාව කියන්නෙ, බුද්ධගයාවෙනෙ ගයාව තියෙන්නෙ. ගයාශීර්ෂයේ ඉඳලා, අදටත් පින්වතුනි තියෙනවා මේ ගයාශීර්ෂය. මමත් ගිහිල්ලා තියෙනවා. එතකොට අද ඒකෙ වෙනම තියෙනවා කෝවිලක් වගේ තැනක් අද තියෙන්නෙ. එතකොට ඒ ගයාවේ ඉඳලා සැවැත් නුවරට උස්සගෙන ගියා කියන්නෙ මාස ගාණක් ගෙනියන්න ඇති. ඒ මාස ගාණක් ගෙනියලා දැන් දෙව්රම් වෙහෙරට ඇතුල් වෙන්න කලින්ම දේවදත්තට වතුර පිපාසයක් ඇතිවුනා. ඉතින් ඒ අය තිබ්බා ඇඳ බිම. ඉතින් ඒ අය වතුර ගේන්නත් කලින් දේවදත්ත ඒ පොකුණට යන්න ඕන කියලා ඇඳෙන් බිම අඩිය තිබ්බා විතරයි, ඝනකඩ බොල් පොළොව දෙබෑ වුනා, මොකද බුදුරජාණන් වහන්සේගේ නේත්‍රය, බුදුරජාණන් වහන්සේට මෙහෙම පෙනෙන මායිමෙන් එහා තමයි මේ හැමඑකක්ම වෙන්නෙ. එතකොට ඝණකඩ බොල් මහපොළොව දෙබෑ වෙලා පරම්පරාවට අයිති කෙනෙක් ගෙනියනවා වගේ ගිනිජාලාව විසින් දේවදත්ත ඇදගෙන ගියා. ඒ දේවදත්ත පොළොවට ඇදගෙන යනකොට ගිනිදැල් මතුවෙනකොට දේවදත්ත එක හඬින් කෑ ගහලා කිව්වා ඉමේහි අට්ඨේහි සමග්ග පුග්ගලං දේවාතිදේවං නරධම්ම සාරථිං සමන්ත චක්ඛුං සතපුඤ්ඤ ලක්ඛණං පානේහි බුද්ධං සරණං උපේමි, ඔන්න දේවදත්ත අවසානෙට කියපු වාක්‍යය. ඉමේහි අට්ඨේහි සමග්ග පුග්ගලෝ, සියලුම පුද්ගලයන්ට, සියලු මාර්ගඵල ලාභී පුද්ගලයන්ටම අග්‍ර වූ, දේවාතිදේවං, දෙවියන්ට දෙවි වූ, නරධම්ම සාරථිං, මේ නරයන් දමනය කරන මහා උත්තමයන් වහන්සේ සමන්ත චක්ඛුං, හාත්පස මැනැවින් පෙනෙන සතපුඤ්ඤ ලක්ඛණං, සියලු පින් ලකුණින් සුසැදි පානේහි බුද්ධං සරණං උපේමි, ඒ බුදුරජාණන් වහන්සේ දිවිහිමියෙන් මම සරණ යනවා කියලා දේවදත්ත සරණ ගියා. ඔන්න ඔය ගාථාව. මෙන්න මේ වචන ටික පිටවෙනකල්, මෙන්න මේ වචන ටික ගිනි ගොඩක් මැද පිටවෙනවා දැකලා තමයි බුදුරජාණන් වහන්සේ දේවදත්ත මහණ කරගත්තෙ. බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා. ඒ සරණ යෑම කොච්චර දෙයක්ද කියනවා නම් ඒ ගින්දර මැද, පොළොව දෙබෑ වෙලා නිරයට මෙහෙම ඇදගෙන යද්දින් බුදුරජාණන් වහන්සේ සරණ ගියා කියලා, බුදුරජාණන් වහන්සේ මතක් වෙච්චි එකේ පුණ්‍යානුභාවය කොච්චරද කියනවා නම්, මේ කල්පයම දේවදත්ත

නිරයේ ඉඳලා ඒ පාපය ඉවරවෙලා, දේවදත්ත උපදින කාලෙක ආපහු, බුදුවරුන් පහළ වෙන කාලෙක, මේ දේවදත්ත උපදිනවා සග්ගීශ්වර කියලා පසේ බුදුරජාණන් වහන්සේ නමක් වෙලා. එදාට අපි ඔක්කොම දැන් දේවදත්තයා දේවදත්තයා දේවදත්තයා කියලා අපි බණිනවා. තමන්ට සතුටු හැම එකාටම අපි කියන්නෙ මේකා දේවදත්ත වගේ. බුදුසසුනට කෙණෙහිලිකම් කරන ඔක්කෝටම අපි කියන්නෙ දේවදත්ත කියලා, බනින ඔක්කෝටම අපි කියන්නෙ දේවදත්ත කියලා. දේවදත්තයෝ  කියලා. එහෙම බැන බැන දෙවියන් බඹුන් සහිත ලෝකයේ සියලු දෙනාම දේවදත්තට බනිනවා. එහෙව් දේවදත්ත බුදුරජාණන් වහන්සේ සරණ ගිය නිසා යම් දවසක පසේ බුදුරජාණන්වහන්සේ නමක් වෙනවා. ආන්න ඒ දාට උන්වහන්සේගේ සිරිපා ළඟ මහා බ්‍රහ්මයා දණ ගහනවා. එදාට ඒ සිරිපා ළඟ බ්‍රහ්මයා සහිත මුලුලෝකය, සක්දෙවිඳු දණ ගහනවා. එදාට උන්වහන්සේගේ අතේ තියෙන පාත්‍රයෙ දන් හැන්දක් බෙදන අයට නිවන්සුව ලැබෙනවා. එදාට උන්වහන්සේට සිවුරක් පූජා කරන අයට අමා මහ නිවන් ලැබෙනවා. එදාට පැන් සිඟිත්තක් පූජා කරන කෙනාට නිවන් ලැබෙනවා. එදාට පසේ බුදුරජාණන් වහන්සේ පිරිනිවන්පෑවට පස්සෙ ඒ දෙවියන් බඹුන් මහා ආදාහන පූජා පවත්වනවා. මෙහෙමත් සංසාරෙ වෙනස්වෙනවා පින්වත්නි. බුදුරජාණන් වහන්සේ ආන්න ඒ බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියන එක දැකලා තමයි පින්වත්නි දේවදත්තව මහණ කළේ. තේරුම් ගන්න බුදුරජාණන් වහන්සේව සරණ යනවා කියන එක ලේසි දෙයක් නෙවෙයි. ගොඩාක් මිනිස්සුන්ට තියෙන්නෙ සරණ නෙවෙයි, පණ්ඩිතමානී බව, තර්කය, උගත්කම. උගත්කමයි, පණ්ඩිතකමයි, තර්කයයි ඊළඟට කරුණු ගලපලා එක එක දේවල් කියලා එක එක දේවල් මවලා දෙන එකයි, මේකයි ලෝකයා තුළ තියෙන්නෙ. සරණ යන්නෑ. අපිට පුදුම ලාභයක් අපිට ලැබුනේ අපේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ළඟ අපිට මහණ වෙන්න ලැබිච්ච යහපත. අපිට ලොකු ස්වාමීන් වහන්සේ අවවාද කරලා තියෙනවා ආයුෂ්මතුනි, මම නම් මහණ වුනේ බුදුරජාණන් වහන්සේගේ සරණ ලබන්න. මේ බුද්ධ ශාසනයේ තියෙන ඒවා සංශෝධනය කරවන්න, විචාරය කරවන්න, ඊළඟට විචාර ග්‍රන්ථ ලියන්න මං මහණ වුන් නෑ කිව්වා. මං මහණ වුනේ සරණක් හොයාගෙන කිව්වා. ඒ නිසා මං මේ ධර්මයෙන් සරණ හොයනවා කිව්වා. ඉතින් තවත් සරණ හොයන අයට පිහිටක් පිණිස තමයි කිව්වා මේ ධර්මය සිංහලට පරිවර්තනය කරලා තුඹලාත් සරණක් හොයාගනිල්ලා කියලා යොමුකළේ. ඒ වචන අපේ හදවත ඇතුලේ රැඳුනා. ඒ නිසා අදටත් අපි විචාර

කරන් නෑ. අදටත් අපි විචාර ග්‍රන්ථ ලියන් නෑ, අදටත් අපිට ඒවා වැඩක් නෑ. අපිට ඕන වෙන්නෙ බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ඒ බුදුරජාණන් වහන්සේගේ පිහිට ගන්න. අපේ දුක්ගිනි නිවාගන්න. අපිට ඕන වුනේ ඒකයි. ඒ නිසා අපි නම් කෝටි වාරයක් මේ වාගේ උතුම් ගුරුවරයෙක් ලැබිච්ච එක ගැන පුදුම විදියට සතුටු වෙනවා. මොකද අපි වෙන අයහපත් කිසිම දේක යෙදෙව්වෙ නෑ, මිත්‍යාදෘෂ්ටියක යෙදෙව්වෙ නෑ. තම තමන්ගෙ මතිමතාන්තර වල යෙදෙව්වෙ නෑ. පෞද්ගලික අදහස් වල යෙදෙව්වෙ නෑ, යෙදව්වේම සරණ තුළ. අපිට අද වුනත් ධර්මය දේශනා කරද්දිනුත් මේ සරණේ පිහිට අන් අයට දෙන්න කියලා නිතර අවවාද අනුශාසනා කරනවා. කොච්චර යහපතක් ද. ඒ නිසා ඔබත් බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ශ්‍රී සද්ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. ඊළඟට මතක තියාගන්න, ඔබට මතක ඇති නේද, මේ නිවන් මාර්ගය, සත්තිස් බෝධිපාක්ෂික ධර්ම නැමැති නිවන් මාර්ගය එහෙම නැත්නම් ආර්ය අෂ්ටාංගික මාර්ගය නැමැති මේ නිර්වාණ ප්‍රතිපදාව, මේ මාර්ගය පුරුදු කරන්න කාරණා පහක් ඕන. ආර්ය අෂ්ටාංගික මාර්ගය පුරුදු කරන්න විදර්ශනා ප්‍රඥාව උපද්දවගන්න ඊළඟට මාර්ගඵල ලබන්න කාරණා පහක් ඕන. ඒ පහට කියනවා පංචපධානිඅංග කියලා. ඒ පංචපධානි අංග තමයි ශ්‍රද්ධාව, බුදුරජාණන් වහන්සේ මේ මේ ගුණවලින් යුක්තයි කියලා ශ්‍රද්ධාව ඕන. එතොකට ඒකට උපකාරයක් පිණිස පින්වතුනි අපි ඊළඟ වැඩසටහනේ ඉඳලා බුදුගුණ නවය හොඳට තේරුම් ගමු. හොඳට විමසන්න තේරුම් ගමු බුදු ගුණ නවය. එතකොට ඒ ගුණ අපි තුළ වැඩෙනවා කියන්නෙ අපි නිවනට සුදුස්සෙක් බවට පත්වෙනවා. අර හිරුමඬල පායනකොට පිපෙන මෝරපු නෙළුමක් බවට පත්වෙනවා. එතකොට පළවෙනි එක තමයි ඕන මේ ශාසනයේ පිහිට ගන්න, ශ්‍රද්ධාව. දෙවෙනි එක තමයි ඕන වෙනවා මේ නිවන් මාර්ගය තේරුම් ගන්න, නිරෝගීකම, ආරෝග්‍යාපරමා ලාභා, නිරොගීකම හරියට උපකාරයි. ඒ නිසා පින්වතුනි නිකාං ඔහේ ඉන්නැතිව කය නිරෝගී කරගන්න. ඒකට දැන් අපේ බුද්ධ ශාසනේ අපිට තියෙනවා සක්මන් කරන එක, පිණ්ඩපාතෙ, දැන් ඇත්තටම අද කාලෙ අවංකවම කිව්වොත් එහෙම නිරෝගීසුව පිණිස පවතින සියලු ප්‍රතිපදා මේ හාමුදුරුවරු තුළිනුත් බැහැර වෙලා තියෙන්නෙ. ඇයි ඉස්සර පිණ්ඩපාතෙ යනවා. වඩිනවා ඈතට. කොච්චර ශරීරයට ව්‍යායාමයක්ද. එතකොට උදේට කැඳ එකක් වළඳලා ගිහිල්ලා එනකොට ශරීරය හොඳට ආහාරයට හැදෙනවා. පුංචි දේ වුනත් හොඳට දිරවනවා. සක්මන් කරනවා, ගුරුවරුන්ගෙන් උපදෙස් ගන්නවා, නිදිවරනවා,

ඊළඟට වෙලාවට නිදාගන්නෙ, සිහියෙන් නිදාගන්නෙ, ඒ කාලෙ හිසට තිබ්බෙ ලී කොට්ටෙ. ඊළඟට හැමදේකටම ඔරොත්තු දෙනවා. කොච්චරද කියලා බලන්න. අද කාලෙ වුනාම බලන්න සාමාන්‍යයෙන් උදේට කිරි එකක් වළඳන්නෙ. කිරි බීපු ගමන් ඇඟේ සෙම වැඩිවෙලා ලෙඩ ටික ඔක්කොම හැදෙනවා. ඊටපස්සෙ දානෙ ටික ළඟට ලැබෙන්නෙ, පිණ්ඩපාතෙ යාමක් නෑ, අද යන්නත් බෑ. ඒ පරිසර ඔක්කොම වැහිලා තියෙන්නෙ. ඒකයි අදකාලෙ මාර්ගඵල ලබන විදියට, ධර්මයේ වැරැද්දක් නෑ, ඒ පරිසරය වැහුනා පින්වත්නි. එතකොට නිරෝගී ශරීරයක්, හොඳට ආහාර දිරවන ඇඟක් තිබ්බා නම් මේ නිවන් මාර්ගය පුරුදු කරන්න පහසුයි. ඊළඟට තුන්වෙනි එක තමයි මේ සටකපට මායම්. කොච්චර මුණගැහෙනවද කියලා බලන්න පින්වතුනි මායාව. සටකපට කම. මේ ශ්‍රද්ධාවන්තයෙක් විදියට පෙනී ඉන්නවා. මේ පස්සෙ අඹරනවානෙ මොකක්හරි ගුලියක්. මොනවාහරි අර්බුදයක්. කාගෙ හරි වැරදි අඩුපාඩු. හිතේ තියෙන දේ කියාගන්න මෙයා මොනවා හිතයිද, මොනවද හිතන්නෙ කියලා හිතාගන්නවත් බැනෙ. විවෘත නැනෙ. කොච්චර ගුප්තයිද සමහර අය. ඒ නිසා මේ ගුප්ත බව, විවෘත නැති බව නිවන්මාර්ගයට හරි බාධයි. නිවන් මාර්ගයේ පිහිට ගන්න පුලුවන් විවෘත චරිතයක් නම්. ඊටපස්සෙ ඒ තුන්වෙනි කාරණාව. හතරවෙනි කාරණාව වීර්යය ඕන. අකුසල් දුරු කරන කුසල් උපදවන වීර්යය. එතකොට අදකාලෙ වීර්යය කොච්චර නැතිවෙලාද. පස්සෙ, පස්සෙ බලමු, පස්සෙ අහමු, පස්සෙ බණ භාවනා කරමු, ඕවා පස්සෙ කරන්න බැරියෑ, හැමවෙලාවෙම බාලගිරි දෝෂෙ වගේ දදා යනවා. එතකොට මේ වීර්යය නැති බව හදාගන්න පුලුවන් මරණ සතිය වඩනකොට. මං ඊළඟ මොහොතෙ මැරෙයිද. දැන් මේ බලන්නකො, මරණයට කොච්චර කරුණු යෙදෙනවාද කියලා මේ කොරෝනා වසංගතයත් එක්ක. ඊටපස්සෙ මරණය සිහි කරනකොට කුසල් උපද්දවන්න වීර්යය එනවා. ඊළඟ එක තමයි, පස්වෙනි කාරණාව තමයි, ප්‍රඥාව. ප්‍රඥාව කියන්නෙ මේ හොඳට අනිත්‍යය තේරුම් ගන්න පුලුවන් හිතක් තියෙන්න ඕන. තොදොල් වෙන්නැතිව, තොත්ත වෙන්නැතිව, බොළඳ වෙන්නැතිව යමක් තේරුම් ගන්න පුලුවන් හැකියාව තියෙන්න ඕන. තොත්ත චරිත වලට, බොළඳ චරිත වලට නිවන් දකින්න අමාරුයි. ඒවා හදාගන්න ඕන. ඔය කාරණා පහ හදා ගත්තා නම් බුදුරජාණන් වහන්සේගේ පිහිට තියෙනවා. ශ්‍රද්ධාව, ඊළඟට නිරෝගී ශරීරය, ඊළඟට සටකපට මායම් නැති බව, ඊළඟට වීර්යයවන්ත බව, ප්‍රඥාවන්ත බව. මේ තමා පංචුප්‍රධානී අංග. මේවට උපකාරක වන කරුණු තමයි අපි මේ ධර්ම දේශනා වලින් මේවා කරන්නෙ. මේ නිවන්

මාර්ගයට ඔබ සුදුස්සෙක් බවට පත්කරනවා. නිවනට සුදුස්සෙක් බවට පත් කරනවා. ඉතින් ඒ නිසා ඔබට අපි සෙත් ප්‍රාර්ථනා කරනවා, බලන්න මෙච්චර බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරමින්, මෙච්චර බුද්ධ චරිතය විස්තර කරමින්, බෝධිරාජ කුමාරයා තෙරුවන් සරණ යන එක තමයි බුදුරජාණන් වහන්සේ දැක්කෙ. එච්චර තෙරුවන් සරණ යන එක වටිනවා. දේවදත්ත ඔච්චර දේවල් කරලත්, බුදුරජාණන් වහන්සේ නිහඬව ඒ පිහිට සළසලා දුන්නේ අවසානෙට බුදුරජාණන් වහන්සේ සරණ යන පිහිට දැකලා. ඒ බුදුරජාණන් වහන්සේ සරණ ගිය පිනට අනාගතේ සක්කීශ්වර කියලා පසේ බුදුවෙනවා. ඒ නිසා ඔබත් මුලු හදවතින්ම බුදුරජාණන් වහන්සේ සරණ යන්න. අච්චර පව් කරපු දේවදත්තටත් එහෙම පිහිටක් ලැබෙනවා නම්, ඔයාලට කොච්චර ශාසනේ පිහිටක් ලැබෙයිද. ශ්‍රී සද්ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. ඒ ශ්‍රද්ධාදී පංචප්‍රධානී අංග ඔබ තුළ වැඩේවා. ගෞතම බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ඔබට සැලසේවා කියලා එක හිතින් සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ එංගලන්තයේ පදිංචි පින්වත් සුජීව විජේවර්ධන මහත්මයා සහ මෙව්නා පීරිස් මහත්මිය. මැයි 19 වෙනි දිනට ජන්මදිනය සමරන, කවිරු චමත් විජේවර්ධන පුතාට නිදුක් නිරෝගී සුව ප්‍රාර්ථනා කිරීම පිණිස. ඉතින් මේ දරුවාට කොච්චර යහපතක්ද, අද මේ ධර්ම දේශනාව අහලා ඒ අම්මයි තාත්තයි ඒ දරුවාව හිතින් සරණ යවන්න මේ පුංචි දරුවා බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ධර්මය සරණ යනවා, සංඝයා සරණ යනවා. ලෝකෙටම ධර්මය දීපු අද මේ මොහොතේ මගේ දරුවා දිවිහිමියෙන් තෙරුවන් සරණ යවනවා කියලා සරණ යවන්න. ඒ නිසා ඒ දරුවාට අනාගතේ සියලු යහපත රැකවරණය සත්පුරුෂ ඇසුර මනුස්ස ජීවිතේ ඵලප්‍රයෝජනය බුදු සසුනේ පිහිට ලැබේවා කියලා සියලු දෙනා ආශිර්වාද කරනවා. ඉතින් සියලූම පින් බලය, බුදුරජාණන් වහන්සේගේ සරණේ ආනුභාවය, බුද්ධානුභාවය මුල් කරගෙන සෙත් ප්‍රාර්ථනා කරනවා මේ රටටත් ලෝකයටත්, සියලු දෙනාට ව්‍යසනයක් වුනු කොරෝනා වසංගතය දුරින්ම දුරු වෙලා මනුස්ස වර්ගයාට සියලු යහපත රැකවරණය ආරක්ෂාව සැලසේවා කියලා. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වේවා. කවිරු චමත් පුතා ඇතුළු ඒ පවුලේ සියලු දෙනාත්, ඔබ සියලු දෙනාත් සියලු දෙවියෝ ආරක්ෂා කරත්වා. ඒ වගේම මියපරලොව ගිය පවුලේ සියලුදෙනා නමින්, ඔබ කවුරුත් නමින් ඥාතීන් පරලොව සැපයට

පත්වේවා. පරමපූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වී, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ පින් බලයෙන් නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලූම ස්වාමීන් වහන්සේලාට, සිල් මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට සියලුදෙනාට ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම මේ රැස් කරගන්නට යෙදුනා වූ සියලු පින් සුජීව විජේවර්ධන මහත්මයාටත්, මෙච්නා පීරිස් මහත්මියටත්, එංගලන්තයේ වාසය කරන, ඒ වගේම ඒ දෙදෙනාගේ දෙමව්පියන්ට මේ පින් අනුමෝදන් වේවා, පවුලේ සහෝදර, ඥාති බන්ධුමිත්‍රාදීන්ට පින් අනුමෝදන් වේවා. ඔබ සියලු දෙනා නිදුක් නිරෝගී වේවා. ඒ වගේම ගෞතම බුද්ධ ශාසනයේ මේ ලැබුණු ලාභයෙන් පිහිට පිළිසරණ ලබත්වා. ඔබ සියලු දෙනාට, ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ කාර්යමණ්ඩලයේ දරුවන්ට, ඒ වගේම දායකත්ව දේශනා පවත්වන සියලු දෙනාට ඒ වගේම ඔබ සියලු දෙනාට, මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට නිදුක් නිරෝගී සුව සැලසේවා. ගෞතම බුද්ධ ශාසනයේ ශ්‍රද්ධාදී පංචපධානී අංග ගුණධර්ම වැඩේවා. අසිරිමත් සම්බුදු සරණින් ඔබගේ දුක්ගිනි නිවේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=HE75xa07IWk&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=21

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ උතුම් දහම් වැඩසටහන අසිරිමත් සම්බුදු සරණ මේ දහම් වැඩසටහන තුළින්, අපගේ ගෞතම තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ජීවිතයත්, ගුණ කදම්භයත්, යම්කිසි කෙනෙකුට බුදුරජාණන් වහන්සේට පහදින්න අවශ්‍ය ඒ බුදුරජාණන් වහන්සේගේ ජීවිත විවරණය අපිට ශක්ති පමණින් මේ වැඩසටහනින් කියලා දෙනවා. බුදුරජාණන් වහන්සේට පහදිනවා කියන එක සුලු දෙයක් නෙවෙයි. ඉතින් ඒ නිසා අද දවසේ මේ වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ, ඇමරිකාවේ පදිංචි පින්වත් රනෝදී උඩංගාව මහත්මිය විසින්. ඉතින් එතුමිය අද දවසේ බුදුරජාණන් වහන්සේගේ අද දවසින් තමයි නව අරහාදී බුදු ගුණ විවරණය ආරම්භ කරන්නෙ. එතකොට ඒ දහම් වැඩසටහනට දායකත්වය දරලා බොහෝ පින් රැස් කරගන්නවා මේ පින්වත් මහත්මිය විසින්. පින්වතුනි බුදුරජාණන් වහන්සේට පැහැදුනු කෙනා තමයි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වෙන්නෙ. බුදුරජාණන් වහන්සේට පහදින්න ඕන. හොඳට ගුණ දැනගන්න ඕන. ගුණ දැනගන්නෙ නැතිව බුදුරජාණන් වහන්සේට හිත සැබෑවටම පහදින් නැතිව බුද්ධං සරණං ගච්ඡාමි කිව්වට ඇත්තටම සරණ යෑමක් එතන වෙනවද කියන එක සැක සහිතයි. වචනයෙන් කීමෙත් ආනිසංස තියෙනවා හැබැයි. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ ගුණ දැනගන්නැතිව, බුදුරජාණන් වහන්සේගේ ගුණ ගැන හදවතේ සැබෑවටම පැහැදීම ඇතිකරගන්නැතිව එයා බෞද්ධයෙක් කිව්වට එයාගෙ බෞද්ධකම ගැන තියෙනවා යම්කිසි, ඒ ගැන හිතන්න වෙනවා. ඊළඟට තමයි ඒ බුදුරජාණන් වහන්සේගේ ගුණ ගැන හොඳට ඉගෙන ගන්නැතිව බුද්ධානුස්සතිය වඩනවානෙ. එහෙම බුද්ධානුස්සතිය වඩනකොට ඒක ඉදිරියට දියුණු කරගැනීමේදී ඔහුට ඇතුලෙන් එන ශක්තිය අඩුයි. මම උදාහරණයක් කියන්නම්. මම මේ කියන ටික උපමාවකින් කියන්නම්. ඔන්න යම්කිසි දුවෙකුට හෝ පුතෙකුට අම්මා කෙනෙක් ඉන්නවා, තාත්තා කෙනෙක් ඉන්නවා. එතකොට මේ මගේ අම්මා, මේ මගේ තාත්තා කියලා එයා දන්නවා. මෙයා යම්දවසක මේ දුව හෝ පුතා නාට්‍යයක් රඟපානවා. ටෙලිනාට්‍යයක් හෝ ඊළඟට එහෙම නැත්නම් චිත්‍රපටියක් හෝ රඟපානකොට ඒකෙ එයාට දෙනවා මේ අම්මා මේ තාත්තා කියලා, ඒ නාට්‍යය තුල අම්මා කෙනෙක්, තාත්තා

කෙනෙක්. එයා ඒ රඟපෑම තුළ අම්මා තාත්තා කියලා රඟපෑවට ඒක රඟපෑමක්. එතකොට ඒ නාට්‍යය තුළ අඬන්නෙ, ඔක්කෝම රඟපෑමක්. නමුත් ඇත්තටම තමන්ගේ අම්මා, ඇත්තටම තමන්ගෙ තාත්තා ඉදිරියේ එයා කටයුතු කරන විදිය කොච්චර නාට්‍යයක අපි නාට්‍යය ඇතුලෙ ඉන්න කෙනාට අම්මා තාත්තා කිව්වට ඇත්තටම හිත ඇතුලෙන් අම්මා තාත්තා කියලා පිළිගන්නෑ. එතකොට ගෙදර ඉන්න අම්මා තාත්තා දුක්වෙනකොට තමන්ට දැනෙනවා. ඇයි ඒ? අපි දන්නවා ඒ අය අපි හැදුවා. ඒ අය අපි වැඩුවා, ඒ අය අපිට උපකාර කලා. ඒ අය අපිට කන්න දුන්නා, බොන්න දුන්නා. ඒ දෙමව්පියන්ගේ ගුණ දන්න නිසා, ඒ තමන්ගේ ඇත්තම අම්මා තාත්තා ගැන හිතන විදියයි, නාට්‍යය තුළ අම්මා තාත්තා ගැන හිතන විදියයි දෙකක්, නමුත් වචන අම්මා තාත්තා. ආන්න ඒ වගේ තමයි බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ දැනගත්තාට පස්සෙ එයා බුද්ධානුස්සතිය වඩන එකයි, බුදුගුණ දන්නෙ නැතිව වචනමාත්‍රයෙන් බුද්ධානුස්සතිය වඩන එකයි දෙකක්. ඒ නිසා තමයි මේ බුදුගුණ හොඳට ඉගෙන ගන්න කියලා කියන්නෙ. ඒ නිසා පින්වත්නි, අපි හොඳට මේ කාරණාව ගැන තේරුම් ගන්න ඕන. බුදුරජාණන් වහන්සේ නිසා තමයි අපිටත් මේ සසරින් ගැලවිල්ලක් තියෙන්නේ කියන පැහැදීම අපිට ඕන. මේ දුකින් නිදහස් වීමක් තියෙන්නේ කියන පැහැදීම ඕන. බුදුරජාණන් වහන්සේ අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් පාරමී පෙරුම් දම් පුරලා උන්වහන්සේ වජිරාසනය මත සම්බුදු වුනේ. සම්බුදු වෙන්න කලින් දවසේ උන්වහන්සේ සිහින පහක් දැක්කා. ඒ සිහින පහෙන් එකක් තමයි උන්වහන්සේ දැක්කා සුජාතා කිරිපිඩු පූජා කරන්න කලින් දවසේ රාත්‍රියේ, වෙසක් පෝය දවසට කලින් දවසේ රාත්‍රියේ, උන්වහන්සේට මොහොතක් නින්ද ගියා. ඒ නින්දේදී උන්වහන්සේ සිහින පහක් දැක්කා. එකක් තමයි උන්වහන්සේ දුටුවා, මුලු භාරතය, මේ පෘථිවියම යහනක් කරගෙන, ඒ කියන්නෙ නිදාගෙන, කොට්ටෙ තමයි හිමාලය, ඊට පස්සෙ දකුණු පැත්තෙ අත බටහිර මුහුදේ. දකුණු පැත්තෙ පා බටහිර මුහුදේ. මේ පැත්තේ අත පෙරදිග මුහුදේ. පා පෙරදිග මුහුදේ. මුළු දඹදිවම යහන කරගෙන, හිමාලෙ කොට්ටෙ කරගෙන සැතපිලා ඉන්නවා දැක්කා. ඒකේ අර්ථය තමයි බුදුරජාණන් වහන්සේ පස්සෙ කාලෙ වදාළා, ලොව්තුරා සම්මා සම්බුදු වෙනවා කියන එක තමයි නිමිත්තක් වශයෙන් පෙන්නුම් කළේ. ඒවා ඒකාන්තයෙන් සිද්ධ වෙන දේවල්. දැන් බලන්න ලොව්තුරා සම්මා සම්බුදු බව කියන එක අනිවාර්යයෙන් සිද්ධ වෙන දෙයක්. නමුත් ඒ සිද්ධ වෙනකොට දස මර සේනා පරාජයට පත්කරන්න සිද්ධ වුනා. ගොඩාක් යුද්ධයක පටලැවෙන්න සිද්ධ වුනා.

ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ කලින් දවසේ හීනෙන් දැක්කා, තමන්ගේ පෙකණියෙන්, නාභි මඩලෙන් තණකොළ ගහක් ඇවිල්ලා ඒ තණකොළ ගහ මේ විශ්වය පුරා පැතිරිලා වැඩෙනවා දැක්කා. ඒ තමයි නුපන් ආර්ය අෂ්ටාංගික මාර්ගය උපදනවා කියලා කියන්න පෙරනිමිත්තක් ඒක. මේක මහා සුපිණ සූත්‍රය කියල අංගුත්තර නිකායේ පංචක නිපාතයේ තියෙනවා මේ සූත්‍රය. ඊළඟට තියෙනවා බුදුරජාණන් වහන්සේ දැක්කා කළු පාට හිස තියෙන, සුදුපාට ඇඟ තියෙන පණුවෝ, ගොඩාක් ඇවිල්ලා දණහිසින් පහළ සම්පූර්ණ වහගෙන ඉන්නවා. ඒ තමයි බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ බොහෝ ගිහි අය, බොහෝ ගිහි අය මේ ශාසනයේ පුරා එකතු වෙනවා කියන්න පෙරනිමිත්ත. ඊළඟට උන්වහන්සේ දැක්කා, පාට පාට, එක එක පාටවලින් පරවියෝ, එක එක පරවියෝ සහ ලිහිණියෝ එක එක විදියට ඇවිල්ලා තමන්ගෙ පා ළඟ සුදු පාට වෙලා යනවා දැක්කා. තමන් ළඟට එනකොට සුදු පාටයි. එක එක පාටට තියෙන හතර දෙනෙක් තමයි ආවෙ. සුදුපාට වුනා. බ්‍රාහ්මණ, ක්ෂත්‍රිය, වෛශ්‍ය, ශුද්‍ර කියන කුල හතරෙන්ම අය පැවිදි වෙලා බුද්ධ ශ්‍රාවක කියන එකම නාමයට පැමිණෙනවා කියන පෙරනිමිත්ත ඒ. ඊටපස්සෙ උන්වහන්සේ දැක්කා සිහිනයක්, අශුචි පර්වතයක් මුදුනේ සක්මන් කරනවා, හැබැයි අශුචි ගෑවෙන්නෑ. ඒකෙ අදහස තමයි, බොහෝ ලාභ සත්කාර, චීවර, පිණ්ඩපාත, සේනාසන, ඒ වාගේම කීර්ති ප්‍රශංසා, යසරාවය මේ ඔක්කෝම පැතිරිලා ගියත් බුදුරජාණන් වහන්සේ ඒ සමඟ එකතු වෙන්නෑ කියන්න පෙරනිමිත්තක් ඒ. බලන්න අනාගතේ සිද්ධ වෙන ඒවා නිමිත්තක් විදියට පේනවා. දැන් බුදුරජාණන් වහන්සේට ඕවා පෙන්නුවෙ නෑ කවුරුත්. ඔය සිහිනයට දෙවියෙක් බ්‍රහ්මයෙක් පෙන්නපු එකක් නෙවෙයි, භාග්‍යවතුන් වහන්සේ දුටු දෙයක්. හැබැයි ඔය සම්මා සම්බුද්ධත්වයට පත්වෙන්නට කලින් දවසේ දුටු සිහිනය, එදා ඒ සිහිනය දැක්කාට පස්සෙ පිරිනිවන් පානකල් භාග්‍යවතුන් වහන්සේ සිහින දකිනවා කියලා එකක් නෑ. ඊටපස්සෙ පින්වතුනි ලොව්තුරා සම්මා සම්බුදු බවට පත්වුනාට පස්සෙ ඒ වජිරාසනය මුලමයි භාග්‍යවතුන් වහන්සේ අරහං ගුණයෙන් පරිපූර්ණ වෙන්නෙ. සම්මා සම්බුදු ගුණය, විජ්ජාචරණ සම්පන්න ගුණය, සුගත ගුණය, ලෝකවිදූ, අනුත්තර, පුරිසධම්ම සාරථී, සත්තා දේවමනුස්සානං, බුද්ධ, භගවා කියන නවා අරහාදී බුදුගුණයෙන් උන්වහන්සේ සෝභමාන වෙන්නෙත් සම්මා සම්බුද්ධත්වයත් සමඟමයි. එතකොට යම්කිසි කෙනෙක් බුද්ධානුස්සතිය වඩනවානම්, බුදුරජාණන් වහන්සේට පැහැදෙනවානම්, ඕනම තැනක ශ්‍රද්ධාව කියලා, මුලු

ත්‍රිපිටකය පුරාම ශ්‍රද්ධාව කියලා විස්තර වෙන්නේ නවඅරහාදී බුදුගුණ කෙරෙහි තියෙන පැහැදීම. බුද්ධානුස්සතිය වඩනවා කියන්නෙත් නව අරහාදී බුදුගුණ සිහි කරන එක. ඊළඟට සෝතාපන්න කෙනාට තියෙනවා බුදුරජාණන් වහන්සේ ගැන අවිච්ඡප්‍රසාදයක්. ඒ අවිච්ඡාප්‍රසාදය තියන්නෙත් නව අරහාදී බුදුගුණ ගැන. ඒ නිසා පින්වතුනි කෙනෙකුට සෝවාන් වෙන්න ඕන නම් බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ දන්නැතිව සෝතාපන්න වෙන්නේ නැත. යම්කිසි කෙනෙක් සෝවාන් වුනානම් එයා බුදුගුණ දන්නේ නෑ කියන එක සිද්ධවෙන්නෙත් නැත. ඒ නිසා අනිවාර්යයෙන්ම බුදුගුණ නම් දැනගන්නම ඕන. බුදුගුණ තමන්ගේ දැනුම මට්ටමට, තමන්ගේ අවබෝධය අනුවයි බුදුගුණ වැටහෙන්නේ. පින්වතුනි මේ ලෝකයේ සියලු දෙනාම බුදුගුණ කියනවාට වැඩිය සෝතාපන්න කෙනාට බුදුගුණ කීමේ, බුදු ගුණ දැනීමේ, බුදුගුණ තේරීමේ ස්වභාවය වැඩියි. සෝතාපන්න අය ගොඩකට වැඩිය දැනීම තියෙනවා සකදාගාමී කෙනාට. ඊට වැඩිය අනාගාමී කෙනාට. ඊට වැඩිය රහතන් වහන්සේලා තමයි බුදුරජාණන් වහන්සේගේ සම්බුදු ගුණ මේකයි කියලා ඇත්තටම දන්නෙ දකින්නෙ. හැබැයි ඒ රහතන් වහන්සේලාට අසූමහා ශ්‍රාවකයන්ට බුදුගුණ ගැන තේරීම තියෙනවා. ඒ අසූමහා ශ්‍රාවකයන් වහන්සේලාට වඩා අග්‍රශ්‍රාවකයන් වහන්සේලාට බුදුගුණ තේරෙනවා. මේ තුන් ලෝක ධාතුවෙන් වැඩිපුරම බුදුගුණ වැටහීම තියෙන්නේ සාරිපුත්ත මහරහතන් වහන්සේට. ඒ සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා මම බුදුරජාණන් වහන්සේගේ බුදු ගුණ යම් තාක් කීවාද ඒ සියලු බුදුගුණ ගලාගෙන යන විශාල ගංඟාවකට ඉදිකට්ටක් ඇල්ලුවොත් අර ඉදිකටු සිදුරෙන් යන වතුර ටිකක් වගේ කියනනවා අර සාරිපුත්ත මහරහතන් වහන්සේ කියූ බුදු ගුණ. ඊළඟට මුහුදට ඇඟිල්ල දික්කලොත් ඒ ඇඟිල්ල කෙළින් තියෙන වතුර ටික වගේ තමයි කියනවා සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරපු බුදුගුණ. එතකොට නොකී බුදුගුණමයි වැඩි. කියනවා කල්පයක් තිස්සේ වැටෙන වැහිබිංදු ගාණ ගණන් කරන්න පුලුවන්, ප්‍රඥාවෙන් දකින්න පුලුවන් සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා, එහෙමවත් මට බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ නම් මට කියලා ඉවර කරන්න බෑ, මම නොකීව, මට නොතේරෙන බුදුගුණමයි වැඩි කියලා. බුදු කෙනෙක් තවත් බුදුරජාණන් වහන්සේ නමක්ගේ බුදුගුණකිව්වත් කල්පයක් පුරාවට, කල්පය ගෙවිලා යනවා, එහෙව් අසීමිත ගුණයන්ගෙන් යුතු බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන්ම අරහං වන සේක. අරහං වන සේක කියන්නෙ බුදුරජාණන්

වහන්සේ සියලු කෙලෙස් නැසූ හෙයින් අරහං වන සේක. සංසාරේ බුදුරජාණන් වහන්සේ සංසාර චක්‍රය ඒ කියන්නෙ පටිච්ච සමුප්පාද වැඩපිළිවෙල නැසූ හෙයින් අරහං වන සේක. සියලු පූජාවන්ට සුදුසු වන හෙයින් අරහං වන සේක. බුදුරජාණන් වහන්සේ රහසින් වත් පව් නොකළ හෙයින් අරහං වන සේක. බුදුරජාණන් වහන්සේට අරහං කියන්නේ රහතන් වහන්සේ නමක්. බුදුරජාණන් වහන්සේගේ හිතේ කෙලෙස් නෑ. රාගය නෑ, ද්වේෂය නෑ, මෝහය නෑ. පින්වතුනි රාග ද්වේෂ මෝහ නෑ කියන එක තරම් අම්මේ හිතාගන්න පුලුවන්ද මේ කෙලෙස් නැතිවීම. ඔන්න හිතන්නකො පින්වතුනි කෙනෙක් භාවනාවක් වඩනවා. ඒ මෙත්තා කරුණා මුදිතා උපෙක්ෂා, අපි කියමු උපෙක්ෂා භාවනාව වැඩුවා කියලා. ඔන්න කාම සංඥා හිතේ නෑ. එහෙම වෙලා ඒ ධ්‍යානය නොපිරී කළුරිය කරලා, උපදිනවා උපේක්ෂා සහගත බ්‍රහ්ම ලෝකයක කල්ප පන්සීයක් ආයුෂ. එතකොට කල්ප පන්සීයක් බ්‍රහ්ම ලෝකයේ වාසය කරනවා රාග සංඥාවක්වත් නැතිව. ආයෙ මනුස්ස ලෝකෙ ආවාම රාගය ඇතිවෙනවානෙ. කල්ප පන්සීයක් රාග සිතක් නැතිව ඉඳලා මනුස්ස ලෝකෙ ආවාම රාගය ඇතිවෙනවා. ආකාසානඤ්චායතනය කියන බ්‍රහ්ම ලෝකයේ ආයුෂ කල්ප දහදාහයි. කාම සංඥාවක් නැතිව මනුස්ස ලෝකෙ ඉපදිච්ච ගමන් ආයෙ රාගය ඇතිවෙනවා. විඤ්ඤානඤ්චායතනයේ කල්ප විසිදාහයි. ආයෙ මනුස්ස ලෝකෙට ආවාම රාගය ඇතිවෙනවා. ආකිඤ්ඤචංයාතනය කල්ප හතලිස්දාහයි. ආයෙ මනුස්ස ලෝකෙට ආවාම ආයෙ ඇතිවෙනවා. නෙවසඤ්ඤානාසඤ්ඤායතනය ලෝකෙ කල්ප අසූදාහයි, ආයෙ මනුස්ස ලෝකෙට ආව ගමන් රාගය ඇතිවෙනවා, කල්ප අසූදාහක් රාග සිතක් නැතිව ඉඳලා මනුස්ස ලෝකෙ කොහේ හරි යන ස්ත්‍රියක් දැක්ක ගමන් ආයෙ රාගය ඇතිවෙනවා. මේ රාගය සර්ව සම්පූර්ණයෙන්ම බුදුරජාණන් වහන්සේ ප්‍රහාණය කලා කියලා යමක් ඇත්ද, පින්වතුනි පහදින්න බුදුරජාණන් වහන්සේ අරහං වන සේක. ඒ රාගය සම්පූර්ණයෙන් නැති කලානෙ, ප්‍රහාණය කලානෙ. ආයෙ ඉපදෙන් නැති ස්වභාවයකට පත්කලානෙ. නිරයේ ගිනිදැල් මත පිච්චි පිච්චි ඉඳලා අවුරුදු කෝටි ප්‍රකෝටි ගාණක් - ඔබ බියකරු සසර දහම් වැඩසටහන ඇහුවා නම් ගිනිදැල් මත දුක් විඳ දුක් විඳ ඉඳලා මොකක්හරි පරණ පිනකට මනුස්ස ලෝකෙට ආවම - නිරයේ ඉඳලා මනුස්ස ලෝකෙට ආපු ගමන් ආයෙ ගෑණියක් පිටිපස්සෙ යනවානෙ. මේ රාගයේ ස්වභාවය බලන්න. අච්චර අවුරුදු කෝටි ගාණක් නිරයේ ගින්දර මත පැහි පැහී නේද හිටියේ. මනුස්ස ලෝකෙට ආවට පස්සෙ ආයෙ ගෑණියෙක් පිටිපස්සෙ යනවා. ආයෙ පිරිමින්ට

මොකක්හරි පෙරේතකමක් ඇතිවෙනවා. මේ රාගයට නින්දා වේවා. ඒ රාගය භාග්‍යවතුන් වහන්සේ ප්‍රහාණය කලා. තිරිසන් ලෝකයේ මාළුවන් අතර, කුරුල්ලන් අතර, පණුවන් අතර, කෘමීන් අතර ඔහේ ඉපදිලා ඉපදිලා ඉඳලා ඒ තිරිසන් ලෝකෙ කාමාශාවෙන් ඉඳලා තිරිසන් ලෝකෙන් මොකක්හරි පරණ පිනකට මනුස්ස ලෝකෙට ආවට පස්සෙ ආයෙත් අර ඌරෝ වගේ, ආයෙත් අර බල්ලො වගේ, ආයෙත් පිරිමියෙක් ගෑණියෙක් සොයාගෙන හිත යනවා, රාග හිත. පෙරේත ලෝකයේ අවුරුදු දහස් ගණනක් කෑහි, හොටු, සෙම, සැරව කකා ඉඳලා කලන්තෙ වැටි වැටී ඉඳලා ආයෙත් මනුස්ස ලෝකෙකට ආව ගමන් ආයෙත් හොයාගෙන යනවා රාගය. අසුර කාලකන්ජික වාගේ අසුර නිකාය වල යොදුන් තුනක්, කිලෝමීටර් තිහක් විශාල ශරීර, ඔළුව ලබුගෙඩියක් වගේ, කට ඉදිකටු සිදුරක් වගේ, ඒ වගේ අවුරුදු කෝටි ගණන් පැහි පැහී ඉඳලා මනුස්ස ලෝකෙට ආපු ගමන් ආයෙත් රාගය. ආයෙත් පරණ ජරාව මතක් වෙනවා. එතකොට මේ රාගයට නින්දා වේවා. එහෙව් රාගය බුදුරජාණන් වහන්සේ ප්‍රහාණය කල නිසා බුදුරජාණන් වහන්සේට අරහං කියනවා. පින්වතුනි ඒ රාගය බුදුරජාණන් වහන්සේ ප්‍රහාණය කලා කියන්න, ඔබට තවත් සාක්ෂි අවශ්‍ය නැහැ, බුදුරජාණන් වහන්සේ අජපාල නුගරුක මුල වැඩ සිටිද්දි, තණ්හා අරති රඟා කියන මාර දූවරු බුදුරජාණන් වහන්සේ ළඟට ආවා, මොකද ඔවුන් දැක්කා තමන්ගේ පිය බිම ඉරි ඇඳ ඇඳ ඉන්නවා. මාරයා. ඇයි පියාණෙනි කියලා ඇහුවා. මොකද කවදාවත් ඔහොම දෙයක් දැකලා නෑ කියලා. අනේ ශ්‍රමණ භවත් ගෞතමයෝ මාව ඉක්මවා ගියා. ඔබව කොහොමද ඉක්මවා යන්නෙ අපි ඇදගෙන එන්නම් කියලා ගියා. ඒ මෝඩියනි නුඹලා යන්න එපා, ඒ ශ්‍රමණයා රාගයෙන් අල්ලන්න බෑ කිව්වා. නමුත් ගිහිල්ලා ඒ තණ්හා අරති රඟා කියන ඒ මාරදූවරු තුන්දෙනා සීය සීය අවුරුදු දාසයේ ලස්සන කන්‍යාවියො විදියට වෙස් මාරු කරගෙන ගිහිල්ලා කිව්වා ඔබගේ උපස්ථානයට අපි ආවෙ, අපිව භාරගන්න, අපිව සතුටු කරවන්න කියලා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ සමාපත්තියෙන්ම වැඩ හිටියා. ඊටපස්සෙ මෙයාලා කල්පනා කලා මේ ශ්‍රමණයා අපිට වසඟ වෙන් නැත්තේ මේ ශ්‍රමණයා කැමති වෙන රූප ඇති කියලා, මහත ඇඟවල් තියෙන කාන්තාවො විදියට, කෙට්ටු ඇඟවල් තියෙන කාන්තාවො හැටියට, වරක් වැදූ කාන්තාවො විදියට, දරුවන් දෙදෙනෙක් වැදූ කාන්තාවන් විදියට, දරුවන් තුන්දෙනෙක් වැදූ කාන්තාවො විදියට, අනේකප්‍රකාර විදියට යම් කෙනෙක් මේ ලෝකයේ පිරිමියෙක්ගේ හිත යම් විදියකටද ස්ත්‍රියකට ඇලෙන්නේ සියලු රූප මැව්වා. මව මවා ඒ දරා, සාමාන්‍යයෙන් මනුස්සයෙකුට

හිතාගන්න බැරි විදියට රාගික විදියට ඒ භාග්‍යවතුන් වහන්සේ සිසාරා එක එක අඟර දඟර දැම්මා. ඒ කිසිම තැනකදි බුදුරජාණන් වහන්සේගේ හිත පෙරළුන් නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඒයි මෝඩියේ තථාගතයන් වහන්සේලා රාගයෙන් බඳින්න බෑ, තථාගතයන් වහන්සේ රාගය ප්‍රහාණය කළා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ මාර දූවරු කියනවා, මේ ඒ අය දාපු අඟර දඟර සාමාන්‍ය තාපසයෙක් හරි මනුස්සයෙක් හරි දුටුවා නම් ලේ වමනෙ දාලා හදවත පුපුරලා මැරෙනවා කියනවා රාග ගින්නට. එහෙව් ඉදිරියේ බුදුරජාණන් වහන්සේ රාගය ප්‍රහාණය කලානෙ. ප්‍රහාණය කරලා නිකෙලෙස් සිතින් වාසය කලානෙ. අරහං කියන්නෙ ඒකනෙ. මේ ලෝකෙ යම්තාක් අය රාගය ප්‍රහාණය කලා නම් ඒ සියලු දෙනාම රාගය ප්‍රහාණය කලේ බුදුරජාණන් වහන්සෙගේ සරණට ඇවිල්ලා. තමන් ළඟ සරණට එන තමන්ගේ දරුවන්ගේ පවා රාගය ප්‍රහාණය වෙනවා කියලා යමක් ඇද්ද, බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන්ම අරහං වන සේක. බුදුරජාණන් වහන්සේගේ හිතේ රාගය මාත්‍රයක්වත් නෑ. බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝකෙ යම් යම් ශාස්තෘවරු, ශ්‍රමණවරු මම බ්‍රහ්මචාරීයි කියලා ඉඳලා ස්ත්‍රී පුරුෂ ඇසුරකින් වාසය කරන් නෑ. නමුත් කාන්තාවන්ගේ ඇඟ ස්පර්ශ කරනවා. බුදුරජාණන් වහන්සේලාගේ ජීවිත වල කවදාවත් එහෙම ඒවා නෑ. සමහර අය එහෙම කාන්තාවන්ගේ ස්පර්ශයක්වත් ලබන් නෑ, නමුත් කාන්තාවන් එක්ක හිනාවෙවී කතා කර කර කාන්තාවන් සමඟ අල්ලාප සල්ලාපයේ යෙදිලා සතුටු වෙනවා. බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ එහෙමවත් නෑ. සමහර අය බ්‍රහ්මචාරීයි කියලා ඉඳලා එහෙම කාන්තාවන් සමඟ අල්ලාප සල්ලාපයේ යෙදෙන් නෑ, නමුත් කාන්තාවන්ගේ කටහඬ අහලා සතුටු වෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේ කාන්තාවන්ගේ හඬකින්වත් සතුටු වෙලා නෑ. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා සමහර අය බ්‍රහ්මචාරීයි කියලා ඉන්නවා ශ්‍රමණ බ්‍රාහ්මණවරු, ඒ අය එහෙම කාන්තාවන්ගේ අල්ලාප සල්ලාපයෙන් සතුටුවෙන්නෙ ඒ කිසිම දෙයක් නෑ, නමුත් කලින් කාන්තාවන් සමඟ තමන් හිටපු යමක් ඇත්ද, ඒවා සිහිකර කර ඉන්නවා. බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ පින්වත්නි, යම් දවසක අභිනිෂ්ක්‍රමණය කලාද, පිරිනිවන් පාන දවස දක්වාම බුදුරජාණන් වහන්සේ අතීතයේ තමන් කාමයේ යෙදුනු එහෙම සිතිවිල්ලක්වත් කෙලෙස් සහිතව උන්වහන්සේගේ සිතේ හටගෙන නෑ, උන්වහන්සේ පරම විරාගීයි. සමහර අය ශ්‍රමණ බ්‍රාහ්මණවරු බ්‍රහ්මචාරී වෙලා ඉන්නවා, ඒ අයට ඕන වෙන්නෙ දිව්‍ය ලෝකෙ ගිහිල්ලා දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන කම්සැප විඳින්න. මේ ජීවිතේ

හොඳටම ඉන්නවා, බ්‍රහ්මචාරීයි. පිරිසිදු බ්‍රහ්මචාරීයි, දිව්‍ය ලෝකෙ ගිහිල්ලා සම්පත්තිය විඳින්න ඉන්නෙ. භාග්‍යවතුන් වහන්සේගේ එහෙමවත් නෑ. භාග්‍යවතුන් වහන්සේ සම්පූර්ණ බඹසර. අමා මහ නිවනත් සමඟයි තියෙන්නෙ. එතකොට මේ විදියට බුදුරජාණන් වහන්සේ සියලු කෙලෙසුන් කෙරෙන් දුරු වූ සේක. මාගන්ධිය මේ බ්‍රාහ්මණයා තමන්ගේ දොණියන්දෑ රන් රුවක් වගේ, ගෙනල්ලා සරසලා ළඟට දුන්නානෙ මේ ඔබවහන්සේට මේ අරන් යන්න කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා මගේ පාදයේ මහපට ඇඟිල්ලෙන්වත් නව දොරකින් අශුචි වැගිරෙන ඔය අශුචි පුරවපු කළයක් වගේ ශරීරයක් මහපට ඇඟිල්ලෙන්වත් ස්පර්ශ කරන්න සිතිවිල්ලක්වත් මට ඇතිවෙන්නෑ කියලා. ඇත්තටම ඔබගේ හිතේ ඔබ රාගයට කැමැති නැත්නම් ඔබටත් රාගය දුරු කරගන්න ඕන නම්, රාග ගින්නෙන් නිදහස් වෙන්න ඕන නම් ඒ අරහං වූ බුදුරජාණන් වහන්සේ සරණ යන්න. රාගය දුරු කරපු බුදුරජාණන් වහන්සේ සරණ යන්න. බුදුරජාණන් වහන්සේ වීතදෝෂී වන සේක. තරහව දුරු කලා. බුදුරජාණන් වහන්සේගේ හිතේ තරහා ඇතිවෙන් නෑ. බුදුරජාණන් වහන්සේට ඕනතරම් කවුරුත් බැන්නත්, දේවදත්ත ගල් පෙරලනවා, චිංචිමානවිකාව ඇවිල්ලා දරමිටියක් බැඳගෙන එනවා, තරහා ඇතිවෙන් නෑ, ඊළඟට ෂඩ්ශාස්තෘවරු බනිනවා, තීර්ථකයෝ බනිනවා, තරහා ඇතිවෙන්නෑ, බුදුරජාණන් වහන්සේගේ බුදු හිතේ. දවසක් අර අක්‍රෝශ භාරද්වාජ බුදුරජාණන් වහන්සේට බණින්න ඇවිල්ලා තියෙනවා, ගෙදර ඉඳලා විහාරයට එනකල් ගාථා පන්සීයකින් බැණ බැණ ඇවිල්ලා තියෙන්නෙ. එක දිගට බැණ බැණ ඇවිල්ලා හොඳටම බැන්නා. බුදුරජාණන් වහන්සේ ළඟටත් ඇවිල්ලා බැන්නා. බුදුරජාණන් වහන්සේ නිහඬව හිටියා. ඊටපස්සෙ එයා බැනලා ඉවරවෙනකල් ඉඳලා බුදුරජාණන් වහන්සේ ඇහුවා, බ්‍රාහ්මණය, මේ ගෙදරට ඥාතීන් එනවද? ඔව් මොකද කියලා ඇහුවා. නෑ මේ කෑම බීම දෙනවද? ඔව් කෑම බීම දෙනවා. ඊටපස්සෙ ඒ අය කෑවෙ බීවෙ නැත්නම් මොකද වෙන්නෙ? ඒ අය කෑවෙ නැත්නම් අපි කනවා. ඊටපස්සෙ කිව්වා ඔබ මෙතෙක් වෙලා බැනපු බැනුම් ඒ කිසිම දෙයක් මං භාරගන්නෙ නෑ, ඒක ඔයාටමයි කිව්වා. එහෙම්මම දමනය වුනා. ඊටපස්සෙ තව එක බමුණෙක් ඇවිල්ලා තරහා ඇවිල්ලා වෙව්වලනවා බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා. වෙව්ලලා, වෙව්ලලා, වෙව්ලලා මොකාද නසන්න ඕන කියලා ඇහුවා. බුදුරජාණන් වහන්සේ වදාළා තරහා ගිය කෙනා නැසුවා නම් හරි කිව්වා. එතකොට හොඳට නින්ද යනවා. මොකද ඒ බමුණාට තරහා ඇවිල්ලා ඊය රෑම නින්ද නෑ, තරහා

කියන එක ඉවසුවා නම් හරි කිව්වා. බුදු හිතේ තරහා උපදින් නෑ. රාහුලයන් වහන්සේටත්, දේවදත්තටත්, චිංචිමානවිකාවටත් ඒ සියලු දෙනාට එකම මෛත්‍රියක් තියෙන්නෙ. එකම කරුණාව තියෙන්නෙ. බුදු හිතේ තරහ ගන්නෑ. බුදු හිතේ තරහ නෑ. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ රාග ද්වේෂ මෝහ දුරු කලා. ඒ නිසයි අරහං කියන්නෙ. ඒ උත්තමයන් වහන්සේ රහතන් වහන්සේ නමක්. එතකොට ඔබගේ හිතේ, ඔබ තරහා යන කෙනෙක් නම්, ඔබට නිතර නිතර ගැටීම ක්‍රෝධය වෛරය ද්වේෂය ඒවා ඔබගේ හිතට එනවා නම් ඔබ ඇත්තටම සරණ යන්න බුදුරජාණන් වහන්සේ. මොකද බුදුරජාණන් වහන්සේගේ සරණට පැමිණිච්ච, බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක වුනු සියලු රහතන් වහන්සේලා ද්වේෂය ප්‍රහාණය කලේ බුදුරජාණන් වහන්සේගේ සරණට ඇවිල්ලානෙ. ඒ නිසා ඔබටත් යම් දවසක ඔය ද්වේෂය ප්‍රහාණය කරන්න පුලුවන් වෙන්නේම බුදුරජාණන් වහන්සේගේ සරණට ආවොත්. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ද්වේෂය දුරු කලා, ඒකාන්තයෙන් අරහං වන සේක කියලා බුදුගුණ හිතන්න. තරහා නෑ. මෝහය නෑ. බුදුරජාණන් වහන්සේගේ හිතේ රැවටීම නෑ. බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ බොරු වැඩ නෑ, බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ සෝබන වැඩ නෑ, බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ තොත්ත වැඩ නෑ. බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ බොළඳ වැඩ නෑ, බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ අන් අය රැවටීම් නෑ. මිත්‍යා දෘෂ්ටික ආගම් හැටහතරක් ඒ කාලෙ දඹදිව තිබ්බා. ඒ සියල්ලගේම තියෙන මිත්‍යාදෘෂ්ටි, බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයන්ට ඒ දෘෂ්ටි වල වැටෙන්න දුන් නෑ. බුදුරජාණන් වහන්සේ පරම පිවිතුරු චතුරාර්ය සත්‍යය ධර්මය නම් වූ ලොකයේ සනාතන ධර්මය කියලා දුන්නා. බුදුරජාණන්වහන්සේගේ හිතේ මෝහය නෑ. ඒ කාලෙ කිව්වා ගෝව්‍රත, අජව්‍රත, සුනඛව්‍රත, ඒ කියන්නෙ එළුවො විදියට ඉදලා නිවන් දකින් පුලුවන්, සුනඛයො විදියට ඉදලා නිවන් දකින්න පුලුවන්. ඊළඟට ගවයො විදියට ඉදලා නිවන් දකින්න පුලුවන්. ඇඟේ අළු තවරාගෙන නිවන් දකින්න පුලුවන්. නිරුවතින් ඉදලා නිවන් දකින්න පුලුවන්. උදේ පාන්දර සීතලේ වතුරේ ගිලිලා නිවන් දකින්න පුලුවන්. ඊළඟට ගිනිගොඩක් මැද ඉඳගෙන තැවි තැවී නිවන් දකින්න පුලුවන්. ඊළඟට මේ විදියට අනේකප්‍රකාර, ඒ කාලෙ තිබ්බා ගංඟා නම් ගඟේ ආරම්භයේ පටන් අවසානය දක්වා මිනී මර මරා ගියත් පව් නෑ, දන් දිදී ගියත් පින් නෑ, ඊළඟට කල්ප අසූහාරදාහක් ආයුෂ තියෙන්නේ එතකොට කෙලින්ම නිවන් දකිනවා, ඕවා ඕන නෑ, ඊළඟට සමහර අය කිව්වා උදේ පාන්දර නැගිටලා හිස හැරුනු පැත්තට එහෙම්මම යන්න, වළක්

තිබ්බොත් වළට වැටෙන්න, ප්‍රපාතයක් තිබ්බොත් එහෙම්මම වැටෙන්න, එහෙම වැටිලා මැරුණොත් නිවන් දකිනවා. සමහර අය කිව්වා උදේ පාන්දරම නැගිටලා තමන් ඉන්න තැන අමු ගොම ගාලා ඒ අමු ගොඩ උඩ පෙරලෙන්න ඕන එහෙට මෙහෙට, එහෙම තමයි නිවන් දකින්නෙ කියලා. මේ විදියට අනේකප්‍රකාර දෘෂ්ටි, මෝහය, ඒ සියලූම දේවල් භාග්‍යවතුන් වහන්සේ ප්‍රහාණය කළානෙ. ඊළඟට චතුරාර්ය සත්‍යය අවබෝධ නොවීම කියන එක සුලු දෙයක්ද. ඒ අවිද්‍යාව බුදුරජාණන් වහන්සේ ප්‍රහාණය කලානෙ. බුදුරජාණන් වහන්සේ අවිද්‍යාව ප්‍රහාණය කලා කියන එක පින්වතුනි අපිට මෙච්චර චතුරාර්ය සත්‍යය කියන එක වචනයෙන් වචනය කියා දීලාවත් අපිට ධර්මය අවබෝධ කරගන්න අමාරුයිනෙ. මේ බණ අහනවා. මේ හිත හොඳට හැදෙනවා, එළියට ගිය ගමන් හිත වෙනස්වෙනවානෙ. අවුරුදු විස්සක් මේ බණ අහනවා, ආයෙත් අර පරණ පුරුද්දට වැටෙනවානෙ. කොච්චර අවිද්‍යාවක්ද. බොරු බව දැන දැන ඇලෙනවානෙ. දැන් මේ කොරෝනා වසංගතයත් එක්ක මිනිස්සු දහස් ගාණක් මැරි මැරී යනවා, තවම මේ පරලොවට යන්න, අපිත් මැරුණොත් මොනවද පරලොවට ගෙනියන්නෙ කියලා හිතෙන් නෑනෙ. මේ කොහෙද මිනිස්සු මැරිලා ඉන්නේ, මොකක්ද මිනිස්සුන්ට හානි වෙලා තියෙන්නෙ කියලා මේ ෆෝන් වලින් බල බලා ඒක ඉවර වෙච්චි ගමන් ආය පරණ වීඩියෝ ටික බලන්න පටන් ගන්නවානෙ. කොයිතරම් නම් මෝහයක් ද, කොයිතරම් නම් මුලාවක් ද. ස්ත්‍රීන්ගෙන් බැට කකා කකා ආයෙ හිතින් ස්ත්‍රීන් හොයනවානෙ. මේ එක පවුලකින් බැට කකා බැට කකා මිනිහෙක්ගෙන් දහදුක් විඳලා ආයෙ ගිහිල්ලා තව මිනිහෙක් හොයාගන්නවානෙ. කොයිතරම් නම් දුකක්ද, කොයිතරම් නම් මුලාවක්ද. ඉතින් ඒ නිසා මේ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන්න, මේ ජීවිතයේ අප්‍රමාණ දුක් විඳ විඳ ආයෙත් සසරක් පතනවානෙ. මේවාට කියන්නෙ මුලාව, මෝහය, මේ සියලූම මෝහය බුදුරජාණන් වහන්සේ ප්‍රහාණය කලා. බුදුරජාණන් වහන්සේට නම් එක ජීවිතයක් සසරේ යනවා කියන එකත් අශුචි ගොඩකට වැටෙනවා වගේ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ සියලු මෝහය ප්‍රහාණය කලා. බුදුරජාණන් වහන්සේ රාග ද්වේෂ මෝහ ප්‍රහාණය කරපු නිසා බුදුරජාණන් වහන්සේ තමයි ලෝකයේ පහළ වෙච්චි පළවෙනි රහතන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන් රාග ද්වේෂ මෝහ ප්‍රහාණය කලා. වීතරාගී වන සේක, වීතද්වේෂී වන සේක, වීතමෝහී වන සේක, කියලා බුදුගුණ සිහි කරන්න ඕන. මේ ලෝකෙ සත්ත්වයා සමහර වෙලාවට තමන් ලස්සනයි නම් කැමැති නෑ

අනිත් අය ලස්සන වෙනවාට. බුදුරජාණන් වහන්සේ ලස්සන වෙන විදිය කියලා දුන්නා. තරහා ගන්නැතිව ඉන්න ඒක ලස්සන වීම පිණිස පවතිනවා. ශ්‍රද්ධාවෙන් දන් දෙන්න ඒක ලස්සන වීම පිණිස පවතිනවා. ක්‍රෝධ නොකර ඉන්න, ලස්සන වීම පිණිස පවතිනවා. වස්ත්‍ර දන් දෙන්න, ලස්සන වීම පිණිස පවතිනවා. ලස්සන ගැන කියලා දුන්නා. ඊටපස්සෙ සමහර අය කැමැති නෑ මිහිරි කටහඬක් ලැබෙනවාට. බුදුරජාණන් වහන්සේ දේශනා කලා වචනයෙන් පව් කරන්න එපා, වචනයෙන් කුසල් කරන්න, එතකොට මිහිරි හඬක් ලැබෙනවා. සාමාන්‍යයෙන් මිනිස්සු කැමැති නෑ තමන් ධනවත් වෙලා අනිත් අය ධනවත් වෙනවාට. බුදුරජාණන් වහන්සේ මේ ශාසනය තුළ ධනවත් වෙන හැටි කිව්වා. මිනිස්සුන්ගේ ධනය පිරිහිලා යන එකට හේතු කියලා දුන්නා. බුදුරජාණන් වහන්සේගේ හිතේ ඊර්ෂ්‍යාව නැහැ. බුදුරජාණන් වහන්සේ අමා මහ නිවන අවබෝධ කලා. ශ්‍රාවකයන්ටද දේශනා කලා. බුදුරජාණන් වහන්සේගේ මාර්ගඵල අවබෝධයෙන් පරතෙරට පත්වුනා. ශ්‍රාවකයන්ටද මාර්ගඵල අවබෝධයට මග කියා දුන්නා. නිවනට මග කියලා දුන්නා. බුදුරජාණන් වහන්සේ විඳින සමාධි සමාපත්ති විඳින්න ඒවා ගැන ශ්‍රාවකයන්ට කියලා දුන්නා. බුදු හිතේ ඊර්ෂ්‍යාව නෑ. බුදුරජාණන් වහන්සේ බ්‍රහ්මයාගේ බ්‍රහ්ම විමානෙත් වැඩ සිටිනවා. බුදුරජාණන් වහන්සේ සක්දෙවිඳුගේ පඬුපුල් ආසනයේත් වැඩ සිටිනවා. බුදුරජාණන් වහන්සේ දෙවියන්ගේ දිව්‍ය විමාන වල වැඩ සිටිනවා. රජවරුන්ගේ රාජ මාළිගා වල වැඩසිටිනවා. ඒ බුදුරජාණන් වහන්සේ රොඩී ගමේ රොඩී මනුස්සයන්ගේ ගෙදරත් පිණ්ඩපාතෙ වඩිනවා. දෙවියන්ගේ සුදහ භෝජනය පාත්‍රයට ලැබෙනවා. ඒ පාත්‍රයම අරන් බුදුරජාණන් වහන්සේ දුගියාගේ පිළුණු පිට්ටුව වෙනුවෙන් වැඩම කරනවා. ඒ බුදුරජාණන් වහන්සේගේ හිතේ කෙලෙස් නැති නිසා. ඊරිසියාව, මාන්නය, ක්‍රෝධය, වෛරය මේ ලෝකයේ යම්තාක් කෙලෙස් තියෙනවාද, ඒ සියලුම කෙලෙස් නෑ උන්වහන්සේ රහතන්වහන්සේ නමක් කියන එක තමයි අරහං කියලා කියන්නෙ. බුදුරජාණන් වහන්සේ අරහං වන සේක. බුදුරජාණන් වහන්සේ අවබෝධ කලේ පින්වතුනි අවබෝධ කරන්න පහසු ධර්මයක් නෙවෙයි. ඒ පටිච්ච සමුප්පාද ධර්මය කියලා කියන එක පින්වතුනි ඒකෙන් තමයි සංසාර චක්‍රය කැරකෙන්නෙ. අවිද්‍යාව කියන බොස්ගෙඩිය තියෙනවා. ඒකට තමයි ඔක්කොම බද්ධ වෙලා තියෙන්නෙ. නාමරූප, ආයතන, ඊළඟට විඤ්ඤාණය, ඊළඟට ස්පර්ශය. මේ ඔක්කෝම බද්ධ වෙලා තියෙන්නෙ. ඒ බුදුරජාණන් වහන්සේ ඒ සංසාර චක්‍රයේ අර සිඳලා දැම්මා. ඒ පටිච්ච සමුප්පාදයේ තියෙන

අවිද්‍යාව සුණුවිසුණු කරලා දැම්මා. එතකොට බුදුරජාණන් වහන්සේ තුළ ආයෙත් සසරක් සකස් වෙන්නෑ. ආයෙ සසරේ යන්නෑ කියන අදහසින් තමයි බුදුරජාණන් වහන්සේට අරහං කියලා කියන්නෙ. සියලු කෙලෙසුන් කෙරෙන් දුරු වූ හෙයින් ද, ඒ වගේම සංසාර චක්‍රය සිඳලූ හෙයින් ද බුදුරජාණන් වහන්සේ අරහං. ඊළඟට බුදුරජාණන් වහන්සේ සියලූ පූජාවන්ට සුදුසු වන සේක. සියලු දෙව්මිනිසුන්ගේ ආමිස පූජා, ප්‍රතිපත්ති පූජා සියල්ලටම සුදුසුයි. බුදුරජාණන් වහන්සේ අපි කියමු මහා බ්‍රහ්මයා එකතු වෙලා බ්‍රහ්මයෝ සේසත් දරනවා, සුයාම දෙවියෝ පවන් සලනවා. ඊළඟට සක්දෙවිඳු සක් පිඹිනවා. සතරවරම් දෙවියෝ සතර කොන උවටැන් කරනවා. රජ සිටු මැතිවරු බුදුරජාණන් වහන්සේට උපස්ථාන කරනවා. ඒ සියලූම උපස්ථාන ලබන්න බුදුරජාණන් වහන්සේ සුදුසුයි. රත්තරනින් මාළිගාවක් හදලා බුදුරජාණන් වහන්සේට පූජා කලොත් ඒක සුදුසුයි. මැණික් වලින් මාළිගාවක් හදලා පූජ කලොත් බුදුරජාණන් වහන්සේට සුදුසුයි. රත්හඳුන් වලින් මාළිගාවක් හදලා පූජාකලොත් ඒ බුදුරජාණන් වහන්සේට සුදුසුය. සියලුම පූජාවන්ට සුදුසුයි. මේ ලෝකෙ පින්වතුනි උතුම්ම දේ දෙන්න සුදුසු කෙනා කව්ද බුදුරජාණන් වහන්සේ හැර. ඊළඟට තමයි පින්වතුනි ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ බවට පත්වෙන්නේ තවත් බුදුකෙනෙක් ළඟ ගත්ත විවරණයක් නිසා නේද. බුදු කෙනෙක් ළඟ පතන දේ ඉටුවෙනවානෙ. මේ ලෝකයේ අසූමහා ශ්‍රාවකයන් පහළ වෙලා, ඒ අසූමහා ශ්‍රාවකයන් පින්වතුනි මම ප්‍රඥාවෙන් අග්‍ර ශ්‍රාවකයා වේවා, මම ඍද්ධියෙන් අග්‍ර ශ්‍රාවකයා වේවා, ධුථ ගුණයෙන් අග්‍ර ශ්‍රාවකයා වේවා කියලා හත් දවසක් දානෙ පූජා කරලා තමයි ප්‍රාර්ථනා කරලා තියෙන්නෙ. එතකොට ඒ දානෙ පූජා කරලා ඒ පතන ප්‍රාර්ථනාව ඉෂ්ට වෙනවානෙ. මේ ලෝකයේ තමන් පතන සියලුම ප්‍රාර්ථනා ඉෂ්ට වෙන නිසා බුදුරජාණන් වහන්සේට යමක් පූජා කරලා සියලු පූජාවන් ලබන්න සුදුසුයිනෙ. එක මලක් පූජා කරන කෙනාටත් අමා මහා නිවන් ලබා දෙනවානෙ. පිළුණු පිට්ටුව පූජා කරන කෙනාට සුගති සැප සම්පත්තිය ලබා දෙනවානෙ. පැන් සිඟිත්තක් පූජා කරන කෙනාට සැපය ලබලාදෙනවානෙ. වියතක් තරම් වස්ත්‍රයක් පූජා කරන කෙනාට අමා මහ නිවන් සැප ලබාදෙනවානෙ. මේ ලෝකයේ තමන්ගේ ලෝකෝත්තර ලෞකික ලෝකොත්තර සියලු ප්‍රාර්ථනාවන් භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ පුදලා සිතනකොටම ඉෂ්ට වෙනවා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ සියලු පූජාවන් ලැබීමට සුදුසුයි. ඒ නිසා ආමිස පූජා, ප්‍රතිපත්ති පූජා. ප්‍රතිපත්ති පූජා කියලා කියන්නෙ තමන් සීලයෙන් ඉඳලා පූජා පවත්වන එකට,

සමාධිය වඩලා, ගුණධර්ම දියුණු කරලා, ඒ සියලුම පූජාවන්ට බුදුරජාණන් වහන්සේ සුදුසුයි. දැන් හිතන්න බලන්න මේ වෙනකොට බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් කොච්චර මල් පූජා වෙලා තියෙනවාද කියලා. 2600ක් අවුරුදු ඇතුලත කොච්චර මල් පූජා වෙන්න ඇතිද. දැන් ඒ ටික ඇති ද ඒ මල්? තව ඉදිරියට පූජා වෙන්න සුදුසු නැද්ද? සුදුසුයිනෙ. බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් 2600ක් මේ අවුරුදු ඇතුලත කොච්චර සිවුරු පූජා කරලා ඇතිද කියලා හිතන්න බුදුරජාණන් වහන්සේ සිහි කරගෙන. දැන් ඒවා ඇතිද? ඉදිරියටත් සුදුසු නැතිද? ඉදිරියටත් සුදුසුයිනෙ. බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් දවසට කොච්චර දානෙ, එක එක ගෙදර දානෙ පාත්තරය, පාත්තරය, පාත්තරය, කොච්චර දවසකට තුන් ලෝකෙම බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් දානෙ පූජා වෙනවාද කියලා බලන්න. බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් ඖෂධ, බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් පැන්, ඒ සියලු පූජාවන් ලැබීමට සුදුසුයි. මීට කල්ප අනූ එකකට කලින් ලෝකයේ පහළ වුනු විපස්සී සම්මා සම්බුදු රජාණන් වහන්සේ වෙනුවෙන් අදටත් පූජා පැවැත්වෙනවා. කල්ප අනූ එකක් ගියත් පූජා පැවැත්වෙනවා. නාලොව නාගයින්ගේ පූජා, දෙව්ලොව දෙවියන්ගේ පූජා, මනුලොව මිනිසුන්ගේ පූජා, බ්‍රහ්ම ලෝකෙ බ්‍රහ්මයන්ගේ පූජා, සියලුම ආමිස ප්‍රතිපත්ති පූජාවන්ට තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේ සුදුසු වන සේක. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන්ම අරහං වන සේක. මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ සියලු කෙලෙසුන් කෙරෙන් දුරු වූ හෙයින්, සියලු අකුසල ධර්මයන් ප්‍රහාණය කළ හෙයින්, සියලු කුසල ධර්මයන් උපදවා ගත් හෙයින්, රහසින් වත් පව් නොකළ හෙයින්, සියලු ආමිස පූජා ප්‍රතිපත්ති පූජාවන්ට සුදුසු වන හෙයින් බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන්ම අරහං වන සේක. අරහං වන සේක. අරහං වන සේක. එතකොට අපි ඒ වචන ටික කියනකොට අපි ගුණ වශයෙනුත්, උපමා උදාහරණ නිදර්ශණත් එක්ක කලින් ඉගෙන ගෙන තියෙනවා. රාගය නෑ කියනකොට අපි දන්නවා බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ තණ්හා අරතී රඟා ඇවිල්ලා එයාලටවත් බැරිවුනා රාග සිතක් උපද්දවගන්න. බුදුරජාණන් වහන්සේ රාගයෙන් බඳින්න පුලුවන් කෙනෙක් නෙවෙයි. බුදුරජාණන් වහන්සේ සියලු කෙලෙස් දුරු කරපු කෙනෙක්. පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස් ගුණය, ඒ අරහං ගුණය, අර්හත් ගුණය පුදුම සහගතයි. දැන් හිතන්නකො බුදුරජාණන් වහන්සේගේ සුළැඟිල්ලෙ එල්ලිලානෙ රාහුලයන් වහන්සේ ආවෙ, රාහුල නිග්‍රෝධාරාමයට. පුදුම

සහගතයි ඒ සිදුවීම. මව්ගේ කීමටනේ දුවගෙන ආවෙ නිධානෙ අරන් එන්න කියලා. ඒ දුවගෙන බුදුරජාණන් වහන්සේ ළඟට එනකොට අර ඉරඑළියෙන් බුදුරජාණන් වහන්සේගේ හෙවණ රාහුල කුමාරයාගේ ඇඟට වැටුනෙ. ඒ හෙවනැල්ල වැටෙනකොටම ඇඟ සීතල වෙලා ගියා. සුඛාති සමණඡායා, ශ්‍රමණයන් වහන්ස, නුඹගේ හෙවණැල්ල පුදුම සනීපයිනෙ කියලා ඇඟිල්ලෙන් අල්ලගෙන කිව්වා, මගේ මව් කිව්වා ඔබ මගේ පියා කියලා. ඔබ ළඟ තියෙනවාලු ධනයක් මට අයිති. ඒ ධනය ඉල්ලගන්න ආවෙ කියලා, සුළැඟිල්ලෙ එල්ලෙද්දි පින්වතුනි නිග්‍රෝධාරාමයට යනකල් බුදුරජාණන් වහන්සේ නිහඬව වැඩියා කියලා යමක් ඇද්ද ඒකාන්තයෙන් ඒක ආශ්චර්යයි. ඒ තරම් නිකෙලෙස් බවක්. තමන්ගේ පුත්‍ර රත්නය නේද. චූටි අවුරුදු හතේ රාජ කුමාරයා නේද. වඩාගත්තෙ නෑ කියලා කමක් නෑ කියලා කියන්නකො. ඊළඟට සමහර වෙලාවට පුංචි ළමයි දැක්කට පස්සෙ සමහර විට මූණ මිරිකනවා, පැටියෝ කියනවා. ඒවත් නැතිව එක ඇඟිල්ලෙ එල්ලිලා ඉද්දින් නිහඬව වැඩියා කියලා යමක් ඇද්ද, ආශ්චර්යයි, අද්භූතයි, නිකෙලෙස් බව. සාරිපුත්තයන්ට වදාළා, සාරිපුත්තයිනි පැවිදි කරන්න. ඊටපස්සෙ ඒ රාහුල ස්වාමීන් වහන්සේ සැවැත් නුවරට වැඩියාට පස්සෙ දවසක් කුටි නෑ. රාහුල ස්වාමීන් වහන්සේ වැසිකිළිය අයිනෙ ගුලිවෙලා සැතපුනා. භාග්‍යවතුන් වහන්සේ උදෑසන වැසිකිළියට වඩිනවා, ඇතුළෙ කවුද? ස්වාමීනී මම රාහුල. ඇයි රාහුල ඇතුලෙ. ස්වාමීනී මම ඊයෙ කුටියක් තිබ්බෙ නෑ, හොඳයි රාහුල. තමන්ගේ පුතාට කුටියක් නැතිව වැසිකිළියේ හිටියාට පස්සෙ හදවතේ දුකක් ඇතිවෙන්නෑ කියලා යමක් ඇද්ද, ඒකාන්තයෙන් ආශ්චර්යයි, අද්භූතයි. ඊටපස්සෙ දවසක් රාහුල ස්වාමීන් වහන්සේට ආයෙ කුටියක් නෑ. එතකොට රාහුල ස්වාමීන් වහන්සේ බුදුරජාණන් වහන්සේගේ කුටියේ ඉස්සරහ දොර ළඟ එළියේ දොර ළඟ සැතපිලා හිටියා. ඊටපස්සෙ මාරයා කල්පනා කලා භාග්‍යවතුන් වහන්සේට දඬුවමක්, ඒ කියන්නෙ භාග්‍යවතුන් වහන්සේ රිදවන්න විදියක් නැති නිසා සමහර වෙලාවට පුතාට රිදෙව්වොත් තාත්තට රිදෙනවානෙ. ඒ නිසා පුතාට රිද්දන්න ඕන කියලා රාහුල ස්වාමීන් වහන්සේ ඉදිරියේ ගොඩාක් විශාල ඇතෙක් විදියට වෙස් මාරු කරගෙන පෙනී සිටියා. ඒ වෙනකොට රාහුල ස්වාමීන් වහන්සේ අර්හත්වයට පත්වෙලා. රාහුල ස්වාමීන් වහන්සේට ගාණක් වත් නෑ. ඒ වෙලාවේ ඇතුලෙ ඉඳලා භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා, මේ හිස් මනුස්සයෝ ඔය අසාර්ථක දේවල් නොකර හිටපන්. ඔය රාහුලයන්ගේ රෝමයක්වත් හොලවන්න බෑ උඹට කියලා. බලන්න පින්වතුනි එහෙම

දොරටුවේ නිදාගෙන ඉද්දිනුත් පන්සාලිස් වසරකට බුදුරජාණන් වහන්සේගෙ කුටියේ රාහුල ස්වාමීන් වහන්සේ සැතපිලා නෑ කියලා යමක් ඇත්ද ඒක ආශ්චර්යයි, අද්භූතයි. නිකෙලෙස් බව දිහා බලන්න. එතකොට තමන් ජීවමානව ඉද්දින් රාහුලයන් වහන්සේ පිරිනිවන් පානවා. තමන් ජීවමානව ඉද්දී යශෝධරාව පිරිනිවන් පානවා. තමන් ජීවමානව ඉද්දි තමන්ගේ අග්‍ර පුත්‍ර සාරිපුත්ත මොග්ගල්ලාන උත්තමයන් වහන්සේලා පිරිනිවන් පානවා. තමන් ජීවමානව ඉද්දි ඒ සියලුදෙනා පිරිනිවන් පානවා. පුංචි කාලෙ ඉඳලා ඉස්සෙල්ලාම කිරි ටික තමන්ට පොවලා හදාගත්ත තමන්ගේ දරුවා බැහැර කරලා සහෝදරයෙක්ගේ දරුවා කිරි පොවලා හදාගත්ත මහා ප්‍රජාපතී උත්තමාවිය පිරිනිවන් පෑවා. ඒ සියල්ල ඉදිරියේ බුදුරජාණන් වහන්සේ නිහඬව හිටියා කියලා යමක් ඇත්ද, දුකක් නැතිව හිටියා කියලා යමක් ඇත්ද, ආශ්චර්යයි, අද්භූතයි. ප්‍රජාපතී උත්තමාවියගේ පරිනිර්වානයේදී බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, පින්වත් මහණෙනි බලන්න කිව්වා, මගේ මෑණියෝ, බොහෝ කාලයක් ආදරෙන් සෙනෙහසින් හදාගත්ත මාගේ මෑණියෝ මහා ප්‍රජාපතී බුද්ධ මාතාව පිරිනිවන් පාද්දිත් තථාගතයන් වහන්සේගේ හදවතේ පුංචිම වෙනසක්වත් ඇතිවෙන් නෑ. සාරිපුත්තයන් වහන්සේ පිරිනිවන් පානවා කියනකොට ආනන්ද ස්වාමීන් වහන්සේගේ හදවත හිරවුනා. හුස්ම ගන්න බැරිව ගියා ආනන්ද ස්වාමීන් වහන්සේට. එතකොට බුදුරජාණන් වහන්සේට ඒ සාරිපුත්ත මොග්ගල්ලාන උත්තමයන් වහන්සේලා පිරිනිවන් පාද්දි ඒ හදවතේ පුංචිම වෙනසක්වත් නෑ. මේ බුද්ධ ශාසනයේ මහා දැවැන්ත මහා බලවත් චරිත නේද මේ පිරිනිවන් පා පිරිනිවන්පා ගියෙ, බුදුරජාණන් වහන්සේ ජීවමානව ඉද්දි. දුකක් හිතෙන් නෑ. උන්වහන්සේ පිරිනිවන් පාන්න වඩින ගමනේ. ඊළඟට උන්වහන්සේ අවසානෙට කන්දදානියො භික්ඛවේ ආමන්තයාමි, වයධම්මා සංඛාරා අප්පමාදේන සම්පාදෙථ, ඒ බුද්ධ වචනය කියනකොට සියල්ල උන්වහන්සේ, කිසිම අපේක්ෂාවක් තියෙනවාද. බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන්ම නිකෙලෙස්. බුදුරජාණන් වහන්සේ අරහං. ඒ නිසා පින්වතුනි ඒ බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස් ගුණය ගැන නිතර නිතර හිතන්න. තව ඕකට කරුණු යෙදෙනවා. දැන් ඉදිරියට තව බුදුගුණ විස්තර කරගෙන යනකොට බුදුරජාණන් වහන්සේගේ විරාගී බව, වීතද්වේෂී, වීතමෝහී බව, බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස් බව, ඊළඟට බුදුරජාණන් වහන්සේ සමහර වෙලාවට අන් අයට පිහිට වෙන්න ගියාම දානෙ නෑ, ආහාරය නෑ, ඒ කුසගින්නේ ඉඳලා අන් අයට පිහිට වෙන්නෙ. මහා වැස්සෙ තෙමෙනවා,

අච්රැසින් දැවෙනවා. ඒ හැම එකකින්ම අන් අයට පිහිට වෙන්නෙ. දුක හිතෙන් නෑ. දුකක් නෑ, බුදුරජාණන් වහන්සේට ලෝක සත්ත්වයා ගැන තියෙන්නෙ කරුණාව. එතකොට සියලු කෙලෙස් නැසූ හෙයින් බුදුරජාණන් වහන්සේ අරහං වන සේක. නිතර නිතර හිතන්න. මාගේ ස්වාමී වූ, බුදුරජාණන් වහන්සේ, එහෙම නැත්නම් ඒ භාග්‍යවත් වූ අර්හත් වූ ගෞතම නම් වූ මාගේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ සියලු කෙලෙසුන් කෙරෙන් දුරු වූ සේක. සියලු අකුසල ධර්මයන් දුරු කළ සේක. සියලු කුසල ධර්මයන් ඉපැද්දවූ සේක. බුදුරජාණන් වහන්සේ රාග ද්වේෂ මෝහ ප්‍රහාණය කළ සේක. වීතරාගී වූ සේක. වීතද්වේෂී වූ සේක. වීතමෝහී වූ සේක. බුදුරජාණන් වහන්සේ රහසින්වත් පව් නොකළ සේක. මේ ලෝකයේ කිසිවකට නොඇලුන සේක. නොගැටුන සේක. මුලා නොවුනු සේක. ආශාව දුරු කළ සේක. බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන් අරහං වන සේක. අරහං වන සේක. ඒ විදියට තමයි බුදුගුණ හිතන්න ඕන. එතකොට අර විස්තර ටික ඔක්කෝම ටික ඉගෙන ගෙන තිබ්බට පස්සෙ කෙටියෙන් හිතනකොට අර්ථ හිතට එනවා. ඉතින් ඒ නිසා හොඳට ඉගෙන ගන්න බුදුරජාණන් වහන්සේගේ අරහං ගුණය. මේකෙන් පස්සෙ ඇස කණ නාසාදී බුදුරජාණන් වහන්සේ ඇසින් රූප බලලා රූප වල නොඇලුනු සේක, නොගැටුනු සේක, මුලා නොවුනු සේක. කණෙන් ශබ්ද අසා නොඇලුනු සේක, නොගැටුනු සේක, මුලා නොවුනු සේක. ආශාව දුරු කළ සේක. ඒ විදියට ඕන විදියකට විස්තර වශයෙන් වඩන්න පුලුවන්. ඉතින් ඒ නිසා අද ඉගෙනගත්තෙ ඔබ අරහං ගුණය. මේ බුදුරජාණන් වහන්සේ රාග ද්වේෂ මෝහ දුරු කරපු ඒ නික්ලේශී ගුණයට අර්හත් ගුණයට ගරු කරන්න. ඒ අර්හත් ගුණයෙන් යුතු අරහං ගුණයෙන් යුතු මාගේ බුදුරජාණන් වහන්සේ දිවි හිමියෙන් මම සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ඒ ශාසනයේ පිහිට ගත් ආර්ය මහා සංඝරත්නය මම සරණ යනවා කියලා හිතන්න. බුදුරජාණන් වහන්සේගේ නික්ලේශී අර්හත් ගුණයේ ආනුභාවයෙන් අපිටද කෙළෙස් නැසීමේ වාසනාව උදාවේවා.

ඉතින් පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහනේ දායකත්වය දරන්නේ ඇමරිකාවේ පදිංචි පින්වත් රනෝදී උඩංගාව මහත්මිය. පළමුවෙන්ම අපි සෙත් ප්‍රාර්ථනා කරමු බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන්ම රාග ද්වේෂ මෝහ දුරු කලා. ඒ වගේම බුදුරජාණන් වහන්සේ සසර ගමන නැවැත්තුවා. ඒකාන්තයෙන් බුදුරජාණන් වහන්සේ සියලු පූජාවන්ට ආමිස පූජාවන්ට, ප්‍රතිපත්ති පූජාවන්ට සුදුසු වුනා. බුදුරජාණන් වහන්සේ

ඒකාන්තයෙන්ම රහතන් වහන්සේ නමක්. ඒක සත්‍යයයි. ඒ සත්‍යානුභාවයෙන් මේ ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ වසංගතය දුරින්ම දුරු වේවා. රෝගී අය සුවපත් වේවා. සියලු දෙනාට බුද්ධානුභාවයෙන් සෙත් වේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. සියලු පින් කැමැති දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ දිව්‍ය යස ඉසුරු වඩා වර්ධනය වෙත්වා. පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වන දෙවියෝ මේ පින්වතුන් සියලු දෙනා රැකගනිත්වා කියලා පින් පමුණුවනවා දෙවියන්ට. ඒ වගේම මියපරලොව ගිය සියලු ඥාතීන්ටත් පින් අනුමෝදන් වී පරලොව සැපයට පත්වේවා. පරම පූජනීය ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ තමයි පින්වතුනි, අපි ඉතිපිසෝ ගාථාව පාලියෙන්වත් කියාගන්න හරියට දැනගෙන හිටියෙ නැති කාලෙ අපිට බුදුගුණයක් බුදුගුණයක් ගානෙ මේ විදියට කියලා දුන්නෙ, ලොකු ස්වාමීන් වහන්සේ. ලොකු ස්වාමීන් වහන්සේ තමයි අරහං ගුණය විස්තර කරලා දුන්නෙ. භාවනා වශයෙන් පුරුදු කරන හැටි කියලා දුන්නෙ. ඒ භාවනා වැකි ටික පවා හදලා මේ විදියට පුරුදු වෙන්න කියලා පුරුදු කලා. පරමපූජනීය ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ පින් බලයෙන් නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම ස්වාමීන්වහන්සේලා, අනගාරික මෑණිවරු, පැවිදි අපේක්ෂක දූපුතුන් සියලු දෙනාට මේ පින් බලයෙන් උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ වේවා. ඒ වගේම මේ රැස් කරගන්නට යෙදුනා වූ සියලු පුණ්‍ය ධර්මයන් ඒකාන්තයෙන් අනුමෝදන් වේවා ඇමරිකාවේ පදිංචි පින්වත් රනෝදි උඩංගාව මහත්මියට. එතුමිය අප්‍රමාණ පිනක් අද මේ සම්බුදු ගුණ, අරහං ගුණය මේ ලෝක සත්ත්වයාට අහන්න සලස්වලා පින් රැස් කරගත්තා. ශාන්ති වීරසිංහ මෑණියන්ට, ගාමිණී උඩංගාව පියාණන්ට, ඒ වගේම දමින්දී, නදින්දී ඒ වගේම සුදිත්තා යන සහෝදරියන්ට මේ පින් අනුමෝදන් වේවා. ඒ සියලු දෙනාට ඒ සහෝදරියන් සියලු දෙනාටද මේ පින් බලයෙන් චතුරාර්ය සත්‍යය ධර්මයම අවබෝධ වේවා. ඒ වගේම ඔබ සියලු දෙනාටත්, අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත්, ගුරුවරුන්ටත් මේ පින් අනුමෝදන් වේවා. ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයේ දරුවන්ට පින් අනුමෝදන් වේවා. ඒවගේම ධර්ම දේශනා සඳහා දායකත්ව දරණ සියලු දෙනාට පින්සිදු වේවා. ඒ වගේම ඔබ සියලු දෙනාටත්, භාග්‍යවතුන් වහන්සේගේ අනන්ත නිකෙලෙස් බවේ, අර්හත් බවේ, රාග ද්වේෂ මෝහ දුරු කළ බවේ ආනුභාවයෙන්, සියලු පූජාවන්ට බුදුරජාණන් වහන්සේ

සුදුසු බවේ ආනුභාවයෙන් බුදුරජාණන් වහන්සේ සසර ගමන නැවැත්වූ නිකෙලෙස් අරහං ගුණයේ ආනුභාව බලයෙන් ඔබ සියලු දෙනාට සෙත් වේවා. ඔබ සියලු දෙනාට සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතු වේවා. උතුම් සම්බුදු සරණින් සැනසෙත්වා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=is7c7zcgX_s&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=22

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන ඔබ දැන් ශ්‍රවණය කරන්නේ. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ගුණ කඳ. අපි මීට කලින් කතා කලා ‘අරහං’ සම්බුදු ගුණය ගැන. අද ‘සම්මා සම්බුද්ධ’ ගුණය ගැන. අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව ශ්‍රද්ධා රූපවාහිනියෙනුත් ලක්විරු ගුවන් විදුලියෙනුත් විකාශනය කරන්නට දායකත්වය දරනවා බත්තරමුල්ල පදිංචි පින්වත් තරණී කරුණාරත්න දියණිය ඇතුලු පවුලේ සියලු දෙනා. ඉතින් ඒ පින්වතුන් බොහෝ පින් රැස් කරගන්නවා ලක්ෂ සංඛ්‍යාත පිරිසකට බුදුරජාණන් වහන්සේගේ ගුණ අහන්න සළස්වලා. බුදු ගුණ අහනවා කියන එක, බුදුගුණ ශ්‍රවණය කරනවා කියන එක අයිති වෙන්නෙ බුද්ධානුස්සතියට. ඇයි බුදුරජාණන් වහන්සේගේ ගුණනෙ අනුස්සති

කරන්නෙ. එතකොට බුද්ධානුස්සතිය කල්ප තිස් එකකට කලින් එක්තරා භික්ෂූන් වහන්සේ නමක් බුද්ධානුස්සතිය සිහි කරලා, ඊටපස්සෙ ඒ කල්පයේ නිවන් අවබෝධ කරන්න බැරිවෙලා. ඊටපස්සෙ එයින් කළුරිය කලාට පස්සෙ දෙව්ලොව ඉපදිලා, අපේ බුද්ධ ශාසනය දක්වාම සුගති උපතම සැලසුනා. අපේ බුද්ධ ශාසනයේ පැවිදි වෙලා භාවනා කරන්න යනකොට බුද්ධානුස්සතියම මනසිකාරය වුනා. එයින්ම අර්හත්වයට පත්වුනා. ඒකයි බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ මා එකම ධර්මයක් දකිනවා නිබ්බිදාය විරාගාය නිරෝධාය සංවත්තති, නොඇල්ම පිණිස නිරෝධය පිණිස උපසමය පිණිස නිවන පිණිස, ඒ තමයි බුද්ධානුස්සති. ඒ නිසා බුද්ධානුස්සතිය කියන එක සුලුකොට තකන්න එපා. බුදුරජාණන් වහන්සේයි මේ විස්තර කලේ. ඒ නිසා අද අපි ඉගෙන ගන්නේ සම්මා සම්බුද්ධ ගුණය. සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ලෝකෙට පහළ වෙනවා කියන එක ලේසි දෙයක් නෙවෙයි. කල්ප ලක්ෂ විසි අසංඛෙයයකට කළින් මේ ලෝකයේ පහළ වුනා මේ ලෝකෙ මව්න් කරට ගෙන පීනු පුතා පහළ වුනේ ඒ කාලෙ. ඒ කාලේ සම්බුද්ධත්වයට හිතලා, අසංඛෙයය දාසයක් වාග් ප්‍රණිධාන, මනෝ ප්‍රණිධාන විදියට වචනයෙන්, සිතෙන් පුරුදු කරලා තියෙනවා මට ලොව්තුරා සම්බුද්ධත්වය ඕන කියලා. එතකොට අසංඛෙයය දාසයක් ඒ වාගේ එකම අදහසක ඉන්නවා කියන එක ලේසිද. අපි පුංචි කාලෙ ඉඳලා මේ වෙනකල් එකම අදහසක ඉන්න බෑ සමහර අයට. සමහර අය බලන්න කාලයක් යනකොට පැවිදි වෙනවා කියලා හිතනවා, මේ පොඩි කාලෙකින් වෙනස් වෙනවා. සමහර අය මහණ වෙන්න ඕන කියලා සංසාර දුකෙන් අතමිදෙන්න ඕන කියලා ඇවිල්ලා මහණ වෙලා අවුරුද්දක් හමාරක් ඉඳලා යනවා. එක අරමුණක ඉන්න බෑනෙ. අපේ ලොව්තුරා සම්බුදුරජාණන් වහන්සේ විවරණ ගන්න කලින් අසංඛෙයය දාසයක් සම්බුදු වෙනවා කියන අදහසින්ම ඉඳලා තියෙනවා. ඒවා හිතාගන්න පුලුවන්ද. ජීවිතයකින් ජීවිතයකට බද්ධ වෙන්න තරම් දැඩිව හිතේ කිඳා බැහැලා. දීපංකර පාද මූලයේ විවරණ අරගෙන, එතකොට එදා අර්හත්වයට පත්වෙන්න පින තියෙද්දි, අර්හත්වයට පත්වෙන්න පින තියෙන, පඤ්ච අභිඥා අෂ්ට සමාපත්තිය තියෙන, බඹසර රකින ඒ වාගේ උතුම් කෙනෙකුට තමයි විවරණ ලැබෙන්නේ සම්බුදු බව පිණිස. ඒ ඔක්කෝම සහසම්බන්ධ වුනානෙ දීපංකර පාද මූලයේ. එදා දීපංකර බුදුරජාණන් වහන්සේ වදාළා අනාගතේ ගෞතම නමින් සම්බුදු වෙනවා කියලා. එතකොට ඒ ඉතුරු අසංඛෙයය හතරත් කල්ප ලක්ෂයත් සම්පූර්ණයෙන්ම ගත කලේ සම්බුද්ධත්වයට පින් රැස් කරගන්න. අර්හත්වයට

පත්වෙන්න පින තිබ්බා දීපංකර බුදරජාණන් වහන්සේගේ පා මුලම. එතකොට සමහර අය එක මලක් පූජා කරලා රහත් වෙද්දි බුදුරජාණන් වහන්සේ මහා බෝධිසත්ත්වයෝ පින් පුර පුරා තව තව එනවා. උන්වහන්සේට මේ ගමනේ මුණගැහිච්චි කීදෙනෙක් අතර ඔය අසංඛෙය්‍ය හතර අතර උන්වහන්සේට මුණගැහිච්ච කීදෙනෙක් නිවන් දකින්න ඇතිද, එක මලක් පූජා කරල, දන් හැන්දක් පූජා කරලා. නමුත් උන්වහන්සේ පින් පුරාගෙන ආවා කුමක් පිණිස ද, සම්මා සම්බුදු බව පිණිසනේ. ලොව්තුරා සම්මා සම්බුදු බව පිණිස. ඊළඟට මතකද වණ්ණුපථ ජාතකයේ ඒ ගැල් හිමියා කියපු වචනයට කීකරු වෙලා වීර්යයෙන් ගල බිඳලා වතුර උපද්දපු තරුණයා. සත්පුරුෂයන්ගේ වචනයට කීකරු වෙලා වීර්යය උපද්දලා ඒ කුසලයත් එක්ක අපේ බුද්ධ ශාසනයේ මහණ වෙලා බුදුරජාණන් වහන්සේගේ වචනය අහලා වීර්යය උපද්දවලා රහත් වුනා. එතකොට සංසාරයේ එවැනි සත්පුරුෂයන්ට කීකරු වීමේ එවැනි ගුණයක් අර්හත්වයට මුල් වෙද්දි අපේ බුදුරජාණන් වහන්සේ කොයි තරම් වීර්යය කලාද. ඒ ඔක්කොම සම්බුද්ධත්වයටනෙ. කවදාවත් රහතන් වහන්සේ නමක් සහ බුදුරජාණන් වහන්සේ නමක් සමාන වෙන්නැහැ. මේ ලෝකයේ රහතන් වහන්සේලා සියලු දෙනාට දෙන දානයට වඩා පසේ බුදුරජාණන් වහන්සේට දෙන දානය මහත්ඵලයි, රහතන් වහන්සේලා සිය නමකට දෙනවාට වඩා. පසේ බුදුරජාණන් වහන්සේලා සිය නමකට දානෙ පූජා කරනවාට වැඩිය සම්මා සම්බුදුවරයෙකුට දානෙ පූජා කරන එකේ පින මහත්ඵලයි මහානිසංසයි. බුදුරජාණන් වහන්සේට දෑත් එකතු කොට වන්දනා කිරීමේ පමණින් බොහෝ දෙව් මිනිස් නිවන් සැප සැලසෙනවා. බුදුරජාණන් වහන්සේලා ඒ තරම් ශ්‍රේෂ්ටයි. මං මේ කිව්වෙ සම්මා සම්බුදු පදවිය ලබනවා කියන එක ශ්‍රේෂ්ට දෙයක්. අසූ මහා ශ්‍රාවකයන් වහන්සේලා සසරේ එද්දි එක බුදුරජාණන් වහන්සේ නමක්ගෙන් විවරණ ගනිද්දි අනෙක් බුදුරජාණන් වහන්සේලා කියන්නෑ මේ අග්‍රශ්‍රාවක වෙනවා, මෙහෙම අග්‍රශ්‍රාවක වෙනවා කියලා කියන්නෑ. නමුත් හැම බුදුරජාණන් වහන්සේ නමක්ම මේ තැනැත්තා ලොව්තුරා සම්මා සම්බුදු වෙනවා කියලා ප්‍රකාශ කරනවා. හැම බුදු කෙනෙක්ගේම බුදු මුවින් ඒ වචනය ඔහුට ඇහෙනවා. ඉතින් ඒ මහා බෝධිසත්ත්වයන් වහන්සේ සව් කෙළෙසුන් නසා ගයාවේ වජිරාසනයේ සම්මා සම්බුදු වුනා. කුමක්ද මේ සම්මා සම්බුද්ධත්වය කියන්නෙ. සම්මා සම්බුද්ධත්වය කියන්නෙ සකල ක්ලේශයන් නසනවා. චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරනවා ගුරු උපදේශ රහිතව. ගුරු උපදේශ රහිතව

ස්වයංභූත්ඥාණයෙන්, ඒ කියන්නෙ තමා විසින්ම චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරනවා කියලා යමක් ඇත්ද, ඒකට තමයි පින්වතුනි සම්මා සම්බුද්ධයි කියන්නෙ. තවත් ඔබගේ වචනයෙන් කෙටි කරලා කීවොත් එහෙම මේ මුලු බුද්ධ ශාසනයේම බුදුරජාණන් වහන්සේ වදාළ සෑම දේශනාවක්ම තවත් කෙනෙක්ගෙන් අහන්නෙ නැතිව තමන් විසින්ම අවබෝධ කරගත්ත ඥාණයෙන්ම දේශනා කලා. සම්මා සම්බුද්ධයි. කවුරුවත් කියා දීලා නෙවෙයි. බුදු කෙනෙක්ගේ ඥාණය, බුදුරජාණන් වහන්සේ අවබෝධ කරපු දේ, වචනයෙන් කියන්න බැරි තරම් මහා විශාල ධර්ම ඥාණයක්. පින්වතුනි අපි කියමු යම්කිසි භාජනයක් තියෙනවා. භාජනයටම ගානට පෑහිලා යන පියනක් තියෙනවා. ඒ පියන භාජනයට වැඩිත් නෑ අඩුත් නෑ ගාණට පෑහෙනවා. ඒ වගේ තමයි මේ ලෝකෙ යම්තාක් අවබෝධ කළයුතු ධර්මයන් වේද, ඒ අවබෝධ කළයුතු ධර්මයන් සියල්ලටම සාපේක්ෂව බුදුරජාණන් වහන්සේගේ ඥාණය තියෙනවා. ඥාණයට අනුව තමයි අවබෝධ කළ යුතු ධර්මය තියෙන්නෙ. අවබෝධ කරන්න යම්තාක් දේවල් තියෙනවාද, ඊට අනුව තමයි ඥාණය තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ අහවල් දේ අවබෝධ නොකලා කියලා ඥාණයක් නෑ, ඒ සියල්ලම තනියෙන් අවබෝධ කලා. අපිට දැන් පටිච්ච සමුප්පාදය කියලා, කියලා කොච්චර වචනයෙන් වචනය විස්තර කරලා දුන්නත් අවබෝධයට තියෙන දුෂ්කරතාවය බලන්න. මගේ බුදුරජාණන් වහන්සේට කවුරුවත් මේ විදියට අවිජ්ජා පච්චයා සංකාරා, සංකාර පච්චයා විඤ්ඤාණං, විඤ්ඤාණ පච්චයා නාමරූපං කියලා කියලා දුන් නෑ. ඊළඟට මේ ඇස කන නාසය දිව කය මනස මේ ආයතන හය තමයි ලෝකය කියන්නෙ, මේ ලෝකය තමයි අවබෝධ කරන්න තියෙන්නෙ කියලා අපේ බුදුරජාණන් වහන්සේට කවුරුත් කියලා දුන්නෙ නෑ. බුදුරජාණන් වහන්සේ තනියෙන් අවබෝධ කළේ. සමස්ථයක් වශයෙන් ගත්තොත් පඤ්චුපාධානස්කන්ධය දුකයි, රූප වේදනා සංඥා සංකාර විඤ්ඤාණ කියන එකට, දැන් අපි අම්මා තාත්තා අක්කා නංගි කියන ඒවා අපිට කියලා දුන්නානෙ ඉපදුනාට පස්සෙ. සමාජේත් ඒ නම් තියෙනවානෙ. නමුත් බුදුරජාණන් වහන්සේට රූප වේදනා සංඥා සංකාර විඤ්ඤාණ කියලා කවුරුත් කියලා දුන් නෑ. බුදුරජාණන් වහන්සේමයි අවබෝධ කලේ පඤ්චුපාධානස්කන්ධය. ඒ අවබෝධ කරපු ස්වභාවයට බුදුරජාණන් වහන්සේ තමයි මෙන්න මේක තමයි රූපය, මේක වේදනාව, මේක සංඥාව, මේක සංස්කාර, මේක විඤ්ඤාණය කියලා බුදුරජාණන් වහන්සේ තමයි පැනවීම් කලේ. ඒ ධර්මය දේශනා කලේ. ඒකයි ඒ වචනයක් විකෘති කලොත්

එහෙම ගොඩාක් පව් රැස්වෙන්නෙ. ඒ රූප වේදනා සංඥා සංකාර විඤ්ඤාණ කියන ඒ නම්, පටිච්ච සමුප්පාදයේ නම් මේ ධර්මයේ තියෙන වචන ඒවා බුදුරජාණන් වහන්සේගේ හදවතින් පැන නැගිච්ච වචන. ඒ නිසා ඒ වචන වෙනස් කරනකොට පව් රැස් වෙනවා බොහෝ. ඊටපස්සෙ එතකොට මේ සකල ධර්මයන්ම බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා ගුරු උපදේශ රහිතව. බුදුරජාණන් වහන්සේ අවබෝධ කරපු ධර්මය මේ වගේ එකක්. දවසක් බුදුරජාණන් වහන්සේ ඇට්ටේරියා වනයට වැඩම කරලා, ඒ වනය පුරාම ඇට්ටේරියා, බුදුරජාණන් වහන්සේ බිම තිබ්බ කොළ මිටක් අතට අරගෙන වදාළා පින්වත් මහණෙනි, මගේ හස්තයේ තියෙන, මගේ අතේ තියෙන ඇට්ටේරියා කොළද වැඩි මේ වනයේ තියෙන ඇට්ටේරියා කොළද. ස්වාමීනී මේ වනයේ අතිමහත් විශාල ඇට්ටේරියා කොළ ගොඩාක් තියෙනවා. මොකද විශාල ඇට්ටේරියා වනයක්. භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රී හස්තයේ තියෙන්නෙ සුළු ප්‍රමාණයයි. පින්වත් මහණෙනි, මෙය ශ්‍රවණය කරන්න. මා විසින් නුඹලාට දේශනා කරපු ධර්මය මේ අතේ තියෙන ඇට්ටේරියා කොළ මිට වගේ. තථාගතයන් වහන්සේ අවබෝධ කරපු ධර්මය මේ ඇට්ටේරියා වනය වගේ. පන්සාලිස් වසකට දේශනා කරපු ධර්මය මේ අතේ තියෙන ඇට්ටේරියා මිට වගේ. බුදුරජාණන් වහන්සේ අවබෝධ කරපු ධර්මය ඇට්ටේරියා වනය වගේ. පහදින්න පින්වතුනි ඒකාන්තයෙන් මාගේ ශාස්තෘන් වහන්සේ ඒකාන්තයෙන් සම්මා සම්බුද්ධ වන සේක. ඒ සියල්ලම අවබෝධ කලේ ගුරු උපදේශ රහිතව. බුදුරජාණන් වහන්සේ අවබෝධ කරපු සමස්ථ ධර්මය අපි කතා කරනවා චතුරාර්ය සත්‍යය ධර්මයයි කියලා. පින්වතුනි චතුරාර්ය සත්‍යය ධර්මයේ තියෙනවා ආකාර දොළහසකින් පරිවර්ත තුනකින් ඒ සියල්ලම අවබෝධ කලේ ගුරු උපදේශ රහිතව. චතුරාර්ය සත්‍යය කියන්නෙ දුක්ඛ ආර්යය සත්‍යය, දුක්ඛ සමුදය ආර්යය සත්‍යය, දුක්ඛ නිරෝධාර්ය සත්‍යය, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාර්ය සත්‍යය. දුක්ඛ ආර්යසත්‍යය කියන්නෙ දුක නම් වූ ආර්ය සත්‍යය. දුක්ඛ සමුදය කියන්නේ දුක හටගැනීම නම් වූ ආර්ය සත්‍යය. දුක්ඛ නිරෝධාර්ය සත්‍යය කියන්නෙ දුක නැතිවීම, දුක නිරුද්ධ කිරීම නම් වූ ආර්ය සත්‍යය. දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාර්ය සත්‍යය කියන්නේ දුක නැතිවීම පිණිස තියෙන ප්‍රතිපදාව නම් වූ ආර්ය සත්‍යය. ආර්ය සත්‍යය කියන්නෙ උතුම්ම සත්‍යය. වෙනස් නොවන සත්‍යය. ලෝකයේ සනාතන සත්‍යය. සෑම බුදු කෙනෙක්ම අවබෝධ කරන සත්‍යය. අවබෝධ කළොත් නිකෙලෙස් වෙන සත්‍යය. සසර දුක නැතිවෙන සත්‍යය. ඉතින් පින්වත්නි බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා මේ

දුක නම් වූ ආර්ය සත්‍යය, දුක කියන්නෙ කුමක්ද කියලා. දුක කියලා කියන්නෙ ජාති දුක්ඛා, ජරාපි දුක්ඛා, ව්‍යාධිපි දුක්ඛො, මරණම්පි දුක්ඛං, අප්පියෙහි සම්පයෝගෝ දුක්ඛෝ, පියෙහි විප්පයෝගෝ දුක්ඛෝ, යං කිච්චං තම්පි නලබති දුක්ඛං සංකිච්චෙන පඤ්චුපාදනක්ඛන්ධා දුක්ඛා. ඉපදීම දුකකි, ලෙඩවීම දුකකි. මරණය දුකකි. ප්‍රියයන්ගෙන් වෙන්වීම දුකකි. අප්‍රියයන් හා එක්වීම දුකකි. කැමති දේ නොලැබීම දුකකි. සමස්ථයක් වශයෙන් ගත්තොත් පඤ්චුපාදානස්කන්ධයම දුකයි කියලා බුදුරජාණන් වහන්සේ වදාළා. එතකොට පඤ්චුපාදානස්කන්ධය රූප වේදනා සංඥා සංකාර විඤ්ඤාණ, මේ තමයි දුක්ඛ ආර්ය සත්‍යය. එතකොට කැමති දේ දුකයි කියන්නෙ, ඉපදෙන සත්ත්වයා ඉපදෙන්නැතිව ඉන්න කැමතියි. කැමති වූ පමණින් ලැබෙන් නෑ. ඒකත් දුකක්. ලෙඩ වෙන සත්ත්වයා ලෙඩ නොවී ඉන්න කැමැතියි. කැමැති වූ පමණින් ලැබෙන් නෑ. ඒකත් දුකක්. මැරෙන සත්ත්වයා නොමැරී ඉන්න කැමැතියි. කැමැති වූ පමණින් ලැබෙන් නෑ. ඒක දුකක්. මේ විදියට දුක්ඛ ආර්ය සත්‍යය. දුක්ඛ සමුදයාර්ය සත්‍යය කියන්නෙ, දුක හටගන්නෙ, දුක හටගන්න හේතුව සමස්ථයක් වහයෙන් ගත්තොත් තෘෂ්ණාව. කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා. මේවා තමයි දුක්ඛ සමුදය. එතකොට දුක්ඛ සමුදය වැඩපිළිවෙලක් විදියට ගත්තොත් පටිච්ච සමුප්පාදය. ඒ ඔක්කොම දුක්ඛ සමුදය. එතකොට දුක්ඛ නිරෝධය කියන්නෙ මේ තෘෂ්ණාවම, ඉතුරු නැතිව නිරුද්ධ වෙන එක. එහෙම නැතිනම් පටිච්ච සමුප්පාදය නිරුද්ධ වෙන එක. ඒ දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාර්ය සත්‍යය කියලා කියන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයට. ඒ තමයි සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි. මං මේ කියපු වචන ටික පවා ගුරු උපදේශ රහිතව ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ අවබෝධ කළේ. ඔය ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ඔය වචන ටික කතා කරන්න පවා බුදු කෙනෙක් පහළ වෙන්න ඕන. ලෝකයේ කිසි කෙනෙක්ට ඔය වචන ටිකවත් හොයාගන්න බෑ. ඒකයි පුදුමය. ඒකයි සම්මා සම්බුද්ධයි කියන්නෙ. එතකොට පින්වත්නි, මං කීවනේ මේ චතුරාර්ය සත්‍යය ආකාර දොළහකින් තියෙනවා කියලා. ඒ ආකාර දොළහක් වෙන්නෙ මේ හතර කොටස් තුනකින්, කොටස් තුනකට වෙන් වෙනවා. ඒ කොටස් තුනකට වෙන් වෙන එකට තමයි පරිවර්ත තුන කියන්නෙ. ආකාර තුන. මොකක්ද ඒ ආකාර තුන. සත්‍යය ඥාණ, කෘත්‍යය ඥාණ, කෘතඥාණ. චතුරාර්ය සත්‍යය ධර්මය සත්‍ය ඥාණ, කෘත්‍යය ඥාණ, කෘතඥාණ විදියට අවබෝධ නොවෙන තාක්කල්

මම ලෝකයේ සම්මා සම්බුද්ධයි කියලා දේශනා කලේ නෑ කියනවා බුදුරජාණන් වහන්සේ. සම්මා සම්බුද්ධයි කියන්නෙ චතුරාර්ය සත්‍යය ධර්මය ආකාර දොළසකින් පරිවර්ත තුනකින් ගුරු උපදේශ රහිතව අවබෝධ කරන එකට. කිසි කෙනෙක් මේක දන්නෑ පින්වත්නි. කිසිම පොතක පතක, කිසිම දහමක ලෝකයේ කිසිම තැනක මේ විග්‍රහය නෑ. සත්‍යය ඥාණය කියලා කියන්නෙ මේ චතුරාර්ය සත්‍යය ධර්මය සත්‍යයි කියන එක අවබෝධ වෙනවා. කෘත්‍යය ඥාණය කියන්නෙ ඒ චතුරාර්ය සත්‍යය අවබෝධ වෙච්චි දේට කුමක්ද කරන්නේ, ඒ චතුරාර්ය සත්‍යයට කළ යුතු දේ. කෘතඥාණය කියලා කියන්නෙ කරලා ඉවරයි කියල දන්නා ඥාණය. මං ඒක විස්තර කරන්නම්. මේකෙ මේ විස්තරය තියෙනවා ධම්මචක්කපවත්තන සූත්‍රයේ. දුක නැමැති ආර්ය සත්‍යය සත්‍යයක්මයි කියලා පෙර නොඇසූ විරූ ධර්මයන්හි දහම් ඇස පහළ වුනා. ඥාණය පහළ වුනා. ප්‍රඥාව පහළ වුනා. විද්‍යාව පහළ වුනා. ආලෝකය පහළ වුනා බුදුරජාණන් වහන්සේට. කුමක්ද මේ දුක? ඒ තමයි ඉපදීම, ලෙඩවීම, මරණය, මේ වයසට යෑම, මරණය, ප්‍රියයන්ගෙන් වෙන්වීම, අප්‍රියයන් හා එක්වීම, ඊළඟට කැමැති දේ නොලැබීම, පඤ්චුපාදානස්කන්ධය සමස්ථයක් වශයෙන් ගත්තොත්. මේක තමයි දුක. ඒකාන්තයෙන් මේක නම් දුකක්. ඒක සත්‍යයි කියලා අවබෝධ වෙනවා. සාමාන්‍යයෙන් සෝතාපන්න කෙනෙකුට අවබෝධ වෙන ඥාණය තමයි සත්‍යය ඥාණය. ඔන්න පළවෙනි පරිවර්තය. ඊටපස්සෙ දුකට කළ යුතු දේ. කෘත්‍යය. දැන් අපේ අය මොකක්ද කරන්නෙ දුකට. දුකට අඩනවා. දුකට වැළපෙනවා. ඊටපස්සෙ අයියෝ ඇයි මට මෙහෙම වුනේ කියලා කියනවා. බුදුරජාණන් වහන්සේ වදාළා මේක සසර දුක නැති වෙන්නෙ, දුකට කළ යුතු දේ තමයි දුක අවබෝධ කරන්න ඕන. ඉපදීම නැමැති දුක, ලෙඩවීම නැමැති දුක උපන් සත්ත්වයාට, දැන් නම් බේත්හේත් තියෙන නිසා මේ ලෙඩවලට, පරිස්සම තියෙන නිසා මෙහෙමවත් ඉන්නවා. සසරේ අපි කොයි කොයි තැන් වල ඉපදෙයිද, කොහේ කොහේ උපදියිද. සතා සීපාවා අතරේ ඉපදුනාට පස්සෙ බෙහෙත්, ලෙඩ වලට බෙහෙත් තියෙනවාද, කවුද දන්නෙ ඒවා. ඊළඟට නිරයේ ඉපදුනාට පස්සෙ තිරිසන් ලෝකෙ පෙරේත ලෝකෙ කොච්චර දුක් කන්දරාද. එතකොට මේක බුදුරජාණන් වහන්සේ වදාළා ඉපදීම, ලෙඩවීම, වයසට යාම, මරණය අවබෝධ කරන්න ඕන. දුක පින්වතුනි අවබෝධ කරන්න ඕන. දුක ගැන හිතන්න ඕන අවබෝධ වෙන විදියට. මේ තමයි උපන් සත්ත්වයාට උරුම වෙච්චි දේ කියලා. එතකොට දුක කියන එක අවබෝධ කළ යුතුයි කියලා ඥාණය පහළ වෙනවා. ඊළඟට කෘත

ඥාණ කියලා කියන්නේ අවබෝධ කළා, දුක අවබෝධ කලා. ඔන්න පරිවර්ත තුනකින් ආකාර තුනක් වුනා, දුක්ඛ ආර්යය සත්‍යය. දුක නැමැති ආර්ය සත්‍යය, සත්‍යයක්මයි. එය අවබෝධ කළ යුතුයි. අවබෝධ කළා කියලා පරිපූර්ණව. ඔය ක්‍රම තුනටම අවබෝධ වුනාට පස්සෙ ගුරු උපදේශ රහිතව, ඒකට තමයි සම්මා සම්බුද්ධ වුනා කියන්නෙ. ඊටපස්සෙ දුක්ඛ සමුදය කියන්නෙ තෘෂ්ණාව, භව - කාම තණ්හා භව තණ්හා විභව තණ්හා සත්‍යයක්මයි. ඒ දුක්ඛ සමුදයට කරන්න තියෙන්නෙ මොකක්ද. දැන් අපිට ආසාවට මොකක්ද කරන්නෙ සාමාන්‍ය මිනිස්සු කරන්නෙ. සාමාන්‍ය මිනිස්සු ආසාවට කරන්නෙ ආසාව ඉෂ්ට කරගන්නවා. කොහොමහරි ඉෂ්ට කරගන්නවා. ඉෂ්ට කරගන්න වෙහෙසෙනවා. බුදුරජාණන් වහන්සේ දේශනා කලේ එහෙම නෙවෙයි. දුක්ඛ සමුදය ප්‍රහාණය කළ යුතුයි. මේ ආසාව ප්‍රහාණය කළ යුතුයි. ඔන්න කළ යුතු දේ. ඊටපස්සෙ කෘත ඥාණය කියලා කියන්නෙ ආසාව ප්‍රහාණය කළා. ආකාර තුනයි. ඊළඟට ඔන්න දැන් ආකාර තුන තුන දැන් මෙතන හයයි ආකාර. ඊළඟට තුන්වෙනි ආර්යය සත්‍යය, දුක්ඛ නිරෝධය. අමා මහ නිවනනේ දුක්ඛ නිරෝධය කියන්නෙ. ඒ දුක්ඛ නිරෝධය තෘෂ්ණාව ක්ෂය වීම තමයි නිවන කියන්නෙ, සත්‍යයක් බව පසක් වෙනවා, අවබෝධ වෙනවා. ඒ නිවනට අපි කුමක් කළ යුතුද. අද අපි නිවනට මොකක්ද කරන්නෙ. නිවන පතනවා. බුදුරජාණන් වහන්සේ දේශනා කලේ නිවන සාක්ෂාත් කරන්න ඕන. ඒකට පැමිණ වාසය කරන්න ඕන. නිවන අපි අවබෝධ කරගන්න ඕන. ඒකට සුදුසුම වචනය තමයි සාක්ෂාත් කරනවා. එතකොට ඒ නිවන සාක්ෂාත් කලා කියලා ඔන්න ආකාර තුනයි, දැන් නවයයි. හතරවෙනි ආර්යය සත්‍යය දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාර්ය සත්‍යය, දුක නැතිවෙන මාර්ගය තමයි ආර්ය අෂ්ටාංගික මාර්ගය කියලා පෙර නොඇසූ විරූ ධර්මයන්හි දහම් ඇස පහළ වුනා. ඥාණය පහළ වුනා, ප්‍රඥාව පහළ වුනා. විද්‍යාව පහළ වුනා. ආලෝකය පහළ වුනා. පෙර නොඇසූ විරූ ධර්මයන්හි, කවදාවත්, ඇයි ආලාරකාලාම උද්දකරාමපුත්‍ර, කොච්චර ගුරුවරුන්ගෙන් රජ කුලයේ සර්වමිත්‍ර බ්‍රාහ්මණයා, අසිත තාපසතුමා කී දෙනෙක් නම් ගුරුවරුද. ඒ කිසිම ගුරුවරයෙක්ගෙන් මේවා අහන්න ලැබුන් නෑ. මේ තුන් ලෝක ධාතුවේම කිසිම ගුරුවරයෙක් ඒක කියලා දුන් නෑ. පෙර නොඇසූ විරූ ධර්මයන්හි දහම් ඇස පහළ වුනා. මේ තමයි නිවන් මාර්ගය කියලා. ඒ නිවන් මාර්ගය තියෙන්නෙ ප්‍රගුණ කරන්න. අන්න කළ යුතු දේ. ඒ නිවන් මාර්ගය ප්‍රගුණ කළා කියලා කෘතඥාණය. දැන් මේ ආර්යය සත්‍යය හතර ආකාර එකක් තුන ගානෙ, එතකොට තුන්වරක් හතර දොළහයි.

ඒවංතිපරිපට්ඨං ද්වාදසාකාරං, මේ විදියට පරිවර්ත තුනකින් ආකාර දොළසකින් යථාභූතං ඥාණදස්සනං, ඒ ආකාරයෙන් මා හට අවබෝධ නොවන තාක් කල් දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ මම සම්මා සම්බුද්ධයි කියලා දේශනා කලේ නෑ කියනවා බුදුරජාණන් වහන්සේ. යම් දවසක අවබෝධ වුනාද මේ චතුරාර්ය සත්‍යය ධර්මය, ආකාර දොළසකට පරිවර්ත තුනකින්, ආන්න එදාට තමයි ලොව්තුරා සම්මා සම්බුදු වුනා කියලා දේශනා කලේ. ගයාවේ වජිරාසනයේ බුදුරජාණන් වහන්සේ සම්බුදු වුනා කියන්නෙ ඔකට. ඒක තමයි සම්මා සම්බුද්ධත්වය. මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ මේ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය ආකාර දොළසකින් පරිවර්ත තුනකින් ගුරු උපදේශ රහිතවම අවබෝධ කළ හෙයින් ඒකාන්තයෙන්ම සම්මා සම්බුද්ධ වන සේක. සම්මා සම්බුද්ධ වන සේක. සම්මා සම්බුද්ධ වන සේක. කියලා සම්මා සම්බුද්ධත්වය, ඒ සම්මා සම්බුද්ධත්වය ගැන හිතනවා. පින්වතුනි අපි කුසල් අකුසල් පින් පව් කියලා දැන් අපි කියනවානෙ. ඔය සියල්ලම බුදුරජාණන් වහන්සේ ගුරු උපදේශ රහිතව අවබෝධ කරපු ඒවානෙ. වෙන කවුද කියලා දුන්නෙ. මිහිඳු මහරහතන් වහන්සේ ලංකාවට රැගෙන ආ ධර්මය, මේ බුදුරජාණන් වහන්සේ දේශනා කරපු ඒවානෙ. සංගායනා කරපු ධර්මය බුදුරජාණන් වහන්සේ දේශනා කරපු ධර්මයනෙ. මේ ලෝකෙ කිසිවෙක් දන්නවාද මේ ධර්මය. සතර සතිපට්ඨානය කියන එක මේ ලෝකෙ අය දන්නවාද. කවුරුත් දන්නෑනෙ. සතර ඍද්ධිපාද කවුරුත් දන්නවද, නෑනෙ. ඊළඟට පංච ඉන්ද්‍රිය, පංච බල, සප්ත බොජ්ඣංග, ආර්ය අෂ්ටාංගික මාර්ගය මේ ලෝකෙ කවුරුත් දන්නවද. මේ සියලු සත්තිස් බෝධි පාක්ෂික ධර්මයන් බුදුරජාණන් වහන්සේමයි දේශනා කලේ. ගුරුවරයෙක්ගෙන් අහලද, කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, ධම්මානුපස්සනා, ගුරුවරයෙක්ගෙන් අහලාද. තමා විසින්ම මේ ධර්මය අවබෝධ කරපු නිසා සම්මා සම්බුද්ධයි. ඊටපස්සෙ අපි කතා කළා පහුගිය කාලෙ බියකරුය සසර දහම් වැඩසටහනත් එක්ක, අපායවල් එකසිය තිස් හයක විස්තර. දැන් අපායවල් එකසිය තිස් හයක් අපි දන්නවාද, සතර අපාය, නරක තිරිසන් ප්‍රේත අසුර කියලා ඒ වගේ ලෝක වල විස්තර, දේවදූත සූත්‍රයෙන් කරපු විස්තර, ඒ සියල්ල, දේවදූත සූත්‍රය දේශනා කරලා බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, මම මේ වෙන කිසිම ශ්‍රමණ බ්‍රාහ්මණයෙක්ගෙන් අහලා නෙවෙයි මේ දේශනා කරන්නෙ කියලා. බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුදුයි. සියල්ල දන්නවා. ගුරු උපදේශ රහිතව අවබෝධ කලේ. ඒ වගේම බුදුරජාණන්

වහන්සේ ලෝකයේ හට ගැනීම, දැන් අපි ගත්තොත් බාහිර මේ ඕලාරික ලෝකය ගත්තොත් අග්ගඤ්ඤ සූත්‍රයේ, ඊළඟට ඉරවල් හතක් පායලා, මේ ලෝක සන්නිවාසය විනාශ වෙන හැටි, සත්තසිවබ්‍රමණ සූත්‍රයේ. මේවා බුදුරජාණන් වහන්සේට කවුරුත් කියලාද. බුදුරජාණන් වහන්සේමනෙ දන්නෙ. සම්මා සම්බුද්ධයිනෙ. අපි මේ බුද්ධානුස්සති, ධම්මානුස්සති, සංඝානුස්සති, සීලානුස්සති, චාගානුස්සති, දේවතානුස්සති කියලා කියනවා. අපි හදපු ඒවද. මේ වචන පවා කවුද දේශනා කළේ. බුදුරජාණන් වහන්සේනෙ. මේ නව අරහාදී බුදුගුණ, අරහං සම්මා සම්බුද්ධ විජ්ජාචරණ සම්පන්න, සුගත, ලෝකවිදූ, අනුත්තරෝ පුරිසදම්මසාරථී, සත්තා දේවමනුස්සානං, බුද්ධ, භගවා, නව අරහාදී බුදුගුණ කවුද දේශනා කළේ. අපි ද, බුදුරජාණන් වහන්සේනෙ. මේවා වෙන ගුරුවරයෙක් කියලා දීලා නෙවෙයි. මේ මුළු බුද්ධ ශාසනයේම තියෙන්නෙ සම්මා සම්බුදු ගුණයනෙ. පින්වතුනි මේ ලෝකෙ තියෙන සියලුම පොත්පත් ටික කියෙව්වොත්, ඒ ඔක්කොම දෘෂ්ටි ගොඩක්. හැබැයි බුදුරජාණන් වහන්සේ එක බණ පදයෙන් අර සියලුම දෘෂ්ටි ටික ලිහිලා යනවා. මේ ලෝකෙ තියෙන සියලු පොත් පත් ටිකයි, අපි ගත්තොත් එකම බුදුරජාණන් වහන්සේගේ එක බණ පදයක්, එක ගාථාවක් ගත්තොත් එහෙම මේ ලෝකෙ තියෙන සියලු පොත්පත් වල ඇතුලෙ අභ්‍යන්තරයේ යමක් තියෙනවා නම් බුදුරජාණන් වහන්සේ වදාළ දෙයින් කෝටියෙන් පංගුවක් තරම්වත් වටින් නෑ. ඒවගේ තියෙන සියලු දෘෂ්ටි ලිහෙන්නේ මේ එක ගාථාවෙන්. ඒ වගේම තමයි එක බණ පදයක් තුළ රහතන් වහන්සේලා දාහක් වැඩ ඉන්නවා කියනවා මහා බ්‍රහ්මයා. ඒ නිසා මේ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ එක බණ පදයක්, එක ගාථාවක් ඉගෙන ගත්තත් ශ්‍රේෂ්ටයි. ගීත ලක්ෂයක් කටපාඩම් තියෙනවාට වැඩිය එක ධම්ම පදයේ ගාථාවක් කටපාඩම් තියෙන එක වටිනවා. මේ ලෝකෙ මිනිස්සුන්ගේ විස්තර අවුරුදු කෝටියක් හිතුවට වැඩිය එක දවසක් බුදුගුණයක් හිතන එක වටිනවා. හේතුව මේ බුදුරජාණන් වහන්සේ මේ ධර්මය ගුරු උපදේශ රහිතව වදාළේ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා සතර අපාය තියෙනවා, මනුස්ස ලෝකය තියනෙවා, චාතුම්මහාරාජිකය තියෙනවා, තාවතිංසය, යාමය, තුසිතය, නිම්මාණරතිය, පරනිම්මිත වසවර්තිය, ඊළඟට බ්‍රහ්ම ලෝක තියෙනවා, මහා බ්‍රහ්ම ලෝකය තියෙනවා, බ්‍රහ්ම පාරිසජ්ජ, බ්‍රහ්ම පුරෝහිත, මහා බ්‍රහ්ම, පරිත්තාභ, අප්පාමාණාභ, ඊළඟට ආභස්සර, පරිත්තසුභ, අප්පමාණසුභ, ඊළඟට සුභකින්න, වේහප්පල ඊළඟට සුද්දාවාස තියෙනවා, අවිය අතප්ප සුදස්ස සුදස්සි අකනිට්ඨා ඊළඟට අරූප බ්‍රහ්ම ලෝක තියෙනවා,

ආකිඤ්චංයාතනය, විඤ්ඤාණංචායතන ලෝක, ආකාශානංචායතන ලෝක මුලින්, ඊළඟට නෙවසඤ්ඤානාසඤ්ඤායතන ලෝකය, ඊළඟට අසංඥ ලෝක, දැන් මේවා කවුද දේශනා කලේ. බුදුරජාණන් වහන්සේ. සියලුම ලෝක සන්නිවාසය බුදුරජාණන් වහන්සේ දන්නවා. කල්පයකට ආයුෂ කොහොමද, කල්පයකට උපමා. කල්ප කීයක් තියෙනවාද, කල්ප වල ස්වභාවය, කවුද දේශනා කලේ. බුදුරජාණන් වහන්සේනෙ. සියල්ලම බුදුරජාණන් වහන්සේ දේශනා කලේ. බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි. ඒ නිසා පින්වතුනි, බුදුරජාණන් වහන්සේනෙ නිරයේ යන විදිය දන්නෙ. තිරිසන් ලෝකෙ, ප්‍රේත ලෝකෙ යන විදිය දන්නෙ බුදුරජාණන් වහන්සේ. දැන් අපි උදාහරණයක් ගමු බුදුරජාණන් වහන්සේගෙ සම්බුදු බව, එක ස්වාමීන් වහන්සේ නමක් හොඳට ඔන්න ධර්මය දේශනා කරනවා. එතකොට එතන ඉන්න ස්වාමීන් වහන්සේ නමකට දිවැස තියෙනවා. ඒ දිවැසින් උන්වහන්සේ බලලා දැක්කා මේ හාමුදුරුවො සිවුරු හරිනවා. බුදුරජාණන් වහන්සේ වදාළා ටික දවසකින් සිවුරු හරිනවා. මගෙ හිතේ සත්තිසාරිපුත්ත, ඒ සිවුරු හැරලා යන භික්ෂූන් වහන්සේ. ඊටපස්සෙ සිවුරු හැරියා පස්සෙ කාලෙ. ඉතින් ඊටපස්සෙ භික්ෂුවක් ගිහිල්ලා බුදුරජාණන් වහන්සේට දේශනා කලා අර ස්වාමීන් වහන්සේ වදාළා මේ භික්ෂුව සිවුරු හරිනවා කියලා හරිනෙ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, සිවුරු හැරියානෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් භික්ෂුව, ඒ වුනාට ඔය හත්තිසාරිපුත්ත තව ටික දොහකින් කාමයේ ආදීනව සිහි කරලා ආපහු පැවිදි වෙනවා කිව්වා. එතකොට ඒක පේන්නෙ කාටද, බුදුරජාණන් වහන්සේට. ඊටපස්සෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ ලකුණ්ඨභද්දිය මහරහතන් වහන්සේට නිතර දහම් අවවාද දෙනවා. ඒ දහම් අවවාද දෙද්දින් ඒ ලකුණ්ඨභද්දිය ස්වාමීන් වහන්සේ අර්හත්වයට පත් වුනා. තවත් දහම් අවවාද දෙනවා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, සාරිපුත්ත හික්මුන කෙනාට තවත් මොන හික්මීමක්ද. එතකොට සාරිපුත්ත මහරහතන් වහන්සේ නිකෙලෙස් වෙන්න දහම් දෙසුවා. දැන් උන්වහන්සේ නිකෙලෙස් වෙලා මෙහෙම සිතකින් ඉන්නෙ කියලා දැක්කෙ කවුද. බුදුරජාණන් වහන්සේනෙ. ඊටපස්සෙ පද හතරක් කට පාඩම් කරගන්න බැරි චුල්ල පන්ථක ස්වාමීන් වහන්සේ, මේ පැවිද්ද, ඇත්තටම එක ගාථාවක්වත් කටපාඩම් හිටින් නැත්නම් මොන මහණ කමක්ද, ඒකනේ යැව්වේ ගෙදර. ඒ වුනාට මෙයා අසූමහා ශ්‍රාවකයන් අතර කෙනෙක් බවට පත්කලේ කවුද, බුදුරජාණන් වහන්සේනෙ. සත්ත්වයෝ දමනය කරන හැටි දන්නෙ කවුද, බුදුරජාණන් වහන්සේනෙ. ඒ සියල්ල බුදුරජාණන්

වහන්සේ සත්ත්වයෝ දමනය කරන හැටි වෙන කවුරුත් කියලා දුන්නද, නැනෙ. ස්වයංභූත් ඥාණයෙන්ම බුදුරජාණන් වහන්සේ සියල්ල අවබෝධ කලා. නරක, තිරිසන්, ප්‍රේත, අසුර ආදී සතර අපායට යන විදිය, කර්ම, ඒවගේ විපාක, බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා. දස බල ඥාණ තියෙන්නෙ කාටද, බුදුරජාණන් වහන්සේටනෙ. කවුරුවත් දුන්නු ප්‍රධාන ද ඒවා. තමා තුළින් උපදවාගත්තු ඥාණ දහයක්නෙ. ගුරු උපදේශ රහිතව. විශාරද ඥාණ හතරක් තියෙනවා. කවුරුහරි දුන්නු ඒවද ඒවා. නැනෙ. තමා තුළින් උපදවාගත්තු ඥාණ හතරක්. ෂඩ්ආසාධාරණ ඥාණ තියෙනවා, කිසිම කෙනෙකුට සාධාරණ නැති ලොව්තුරා සම්මා සම්බුදු කෙනෙකුට පමණක් සාධාරණ ඥාණ හයක් තියෙනවා. අපි ඉදිරියට ඒවා ඉගෙන ගනිමු. එතකොට ඒවා කවුද දුන්නෙ. තවත් කෙනෙක් දීලද. නැනෙ. බුදුරජාණන් වහන්සේ තමන්ගේ ඥාණයෙන්මනෙ උපදවාගත්තෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ මේ සියල්ල දන්නවා දකිනවා කියලා යමක් ඇත්ද, ඒ සියල්ල ගුරු උපදේශ රහිතවම අවබෝධ කලා කියලා යමක් ඇත්ද, ඒකාන්තයෙන්ම පින්වතුනි අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි. එතකොට අපි ඒක භාවනාවක් වශයෙන් විමසන්නෙ, මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ මේ සියලු ධර්මයන් ගුරු උපදේශ රහිතවම අවබෝධ කලා. ඒකාන්තයෙන්ම සම්මා සම්බුද්ධයි. මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ චතුරාර්ය සත්‍ය ධර්ම සත්‍ය ඥාණ, කෘත්‍යය ඥාණ, කෘතඥාණ විදියට පරිවර්ත තුනකින් යුතුව, ආකාර දොළසකින් යුතුව, ගුරු උපදේශ රහිතව අවබෝධ කලා. ඒකාන්තයෙන් සම්මා සම්බුද්ධයි. ඒ විදියට නමුත්, අර විස්තර වශයෙන් ඉගෙන ගෙන තියෙන්න ඕන. දැන් බුදුරජාණන් වහන්සේ අහනවා පින්වත් මහණෙනි, මමත් මේ පඤ්චුපාදානස්කන්ධය අවබෝධ කරගෙන පඤ්චුපාදානස්කන්ධයෙන් නිදහස් වුනා. මේ භික්ෂූන් වහන්සේලාත්, රහතන් වහන්සේලාත් පඤ්චුපාදානස්කන්ධය අවබෝධ කරගෙන පඤ්චුපාදානස්කන්ධයෙන් නිදහස් වුනා. ඉතින් ඔබ කරපු දේමයි මමත් කලේ. මම කරපු දේමයි ඔබත් කලේ. ඉතින් පින්වත් මහණෙනි, සම්මා සම්බුදුරජාණන් වහන්සේගෙයි, රහතන් වහන්සේලාගෙයි වෙනස මොකක්ද කියලා ඇහුවා. ඇයි එකම දේ කරලා තියෙන්නෙ. ඊටපස්සෙ සංඝයා දේශනා කරනවා, රහතන් වහන්සේලා භගවං මූලකම්ම භන්තේ ධම්මං, භාග්‍යවතුන් වහන්සේ මුල් කරගෙනනෙ ස්වාමීනී මේ ධර්මය තියෙන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ අපිට ඒ වෙනස කියලා දෙන්න. අපි මතක තියාගන්නම්. ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේ වදාළා

තථාගතෝ භික්ඛවෙ අරහං සම්මා සම්බුද්ධො, පින්වත් මහණෙනි, තථාගත අරහං සම්මාසම්බුදුරජාණන් වහන්සේ අනුප්පන්නස්ස මග්ගස්ස උප්පාදේතා, නූපන් නිවන් මාර්ගය උපද්දවන්නේ බුදුරජාණන් වහන්සේ. අසංජාතස්ස මග්ගස්ස සංජනේතා දැනගෙන තිබ්බේ නැති නිවන් මාර්ගය දැනගන්නේ බුදුරජාණන් වහන්සේ. ඊටපස්සෙ අනක්ඛාතස්ස මග්ගස්ස අක්ඛාතා, මෙච්චර කාලයක් කිසි කෙනෙකුට කියාගන්න බැරිව තිබ්බ නිවන් මාර්ගය කියලා දෙන්නේ බුදුරජාණන් වහන්සේ. මග්ගඤ්ඤෝ, මාර්ගය අවබෝධ කරපු කෙනා, මග්ගවිදූ, මාර්ගය දන්න කෙනා, මග්ගකෝයිදෝ, මාර්ගයේ දක්ෂ කෙනා, බුදුරජාණන් වහන්සේ දේශනා කලා මග්ගානුගාච භික්ඛවේ ඒතවේ සාවකා විහරන්ති පච්චා සමන්නාගතා, ශ්‍රාවකයො කරන්නෙ ඒක අහලා ඊටපස්සෙ නිවනට යන එක. ඇහුවට පස්සෙ නිවනට යන එක. දැන් දැක්කද සම්මා සම්බුදුරජාණන් වහන්සේගෙයි රහතන් වහන්සේගෙයි වෙනස. බුදුරජාණන් වහන්සේ තමයි නිවන් මාර්ගය උපද්දන්නෙ. නිවන ගැන කියලා දෙන්නෙ. නිර්වාණය, වැහිලා තියෙන නිර්වාණ නගරය එළිපෙහෙළි කරලා ගන්නෙ බුදුරජාණන් වහන්සේනෙ. ශ්‍රාවකයො පිටිපස්සෙන් යන අය. මේ ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශාසනේ, කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක පරම්පරාව නැති වුනාට පස්සෙ ඒ කාලයේ ඉඳලා ගෞතම බුදුරජාණන් වහන්සේ පහළ වෙනකල් කිසිම මාර්ගඵල ලාභියෙක් බිහි වුන් නෑ පසේ බුදුරජාණන් වහන්සේලා හැර ස්වයංභූත් ඥාණයෙන්. ගෞතම බුද්ධ ශාසනේ එකම එක ශ්‍රාවකයෙක් වත් නෑ, තනියෙන් නිවන් දැකපු. ගෞතම බුද්ධ ශාසනේ එකම එක ශ්‍රාවකයෙක් දෙවියො අතරවත් මිනිස්සු අතර වත් නෑ, තනියෙන් මාර්ගඵල ලබපු තවත් කෙනෙක්ගේ අනුග්‍රහයක් නැතිව. පැහැදිලියිද? එහෙනම් බුදුරජාණන් වහන්සේගෙන් වචනයක් හරි අහලා තමයි අනික් අය නිර්වාණය අවබෝධ කරන්නෙ. එහෙනම් මේ ලෝකෙ සියළුම මාර්ගඵල ලාභීන් ජනිත කලේ කවුද? බුදුරජාණන් වහන්සේනෙ. මේ ලෝකයේ ඒකයි අංගුත්තර නිකායේ තියෙන්නේ පරම දුර්ලභයි කියනවා බුදුරජාණන් වහන්සේ නමක් පහළ වීම. බුදුරජාණන් වහන්සේ පහළ වෙනවා කියන්නෙ සෝතාපන්න වීම කියන එක පහළ වෙනවා. සකදාගාමී කියන එක පහළ වෙනවා. අනාගාමී කියන එක පහළ වෙනවා. අර්හත්වය කියන එක පහළ වෙනවා. පසේ බුදුවරු පහළ වුනාට ඔය මාර්ගඵල හතර පහළ වෙන්නෑ. ඒකයි සම්මා සම්බුදුවරු කියන්නෙ. පින්වතුනි මනසින් හිතුවත් යහපතක්. ඒකනේ එක්කෙනෙක් අතීතයේ අපි රහතන් වහන්සේ නමක් ආපස්සට බලනවා මම

මොකක්ද කරලා තියෙන පින සසරේ කියලා, මේ අර්හත්වයට පත්වෙන්න. හීනෙන් බුදුරජාණන් වහන්සේ දැකලා. හීනෙන් බුදුරජාණන් වහන්සේ දැකලා ඒකට ගොඩාක් සතුටු වෙලා. හීනෙන් දැකලා සතුටු වෙච්චි පිනට නිවන් දැක්කානෙ. හීනෙන් දැක්කත් හිත සැනසෙනවා පින්වත්නි. එහෙනම් ඔබගේ නිවසේ වුනත් ඔබ හිත පහදවාගෙන බුදු ගුණ සිහි කරලා පැන් ටිකක් තියනකොට බුද්ධ පූජාව විදියට කොච්චර පිනක් ද. දානෙ ටිකක් පූජා කරනකොට කොයිතරම් පිනක් ද. ඒ බුදුගුණ මනසිකාර කරනකොට ඒ භාවනාව කොච්චර යහපතක්ද. බුදුගුණ සිහි කරලා තවත් අයට සෙත් ප්‍රාර්ථනා කරනකොට කොච්චර යහපතක් ද. බුදුරජාණන් වහන්සේ තුන් ලෝකටම අග්‍රයි. ඒකයි බුදුරජාණන් වහන්සේ දේශනා කළේ පින්වත් මහණෙනි, අතීතයේ සුරාසුර යුද්ධයක් ඇතිවෙලා සක්දෙවිඳු අනිත් අයට කිව්වා, යුද්ධය වෙලාවේ බයක් තැතිගැනීමක් ඇතිවුනොත් එහෙම සිහි කරන්න මගේ කොඩිය දිහා බලන්න. නැත්නම් මේ වරුණ දෙවියො ඉන්නවා. ඊළඟ ඊසාන දෙවියො ඉන්නවා, පජාපතී දෙවියෝ ඉන්නවා, එයාලගේ කොඩි දිහා බලන්න කිව්වා. එතකොට බය නැතිවෙයි. බුදුරජාණන් වහන්සේ වදාළා එහෙම බය නැතිවෙන්නත් පුලුවන්, බය තියෙන්නත් පුලුවන්. හේතුව සක්දෙවිඳු බයයි. ඇත්තටම යුද්ධෙකින් හැරිලා ආවනෙ. හැබැයි පින්වත් මහණෙනි, මම නුඹලාට කියන්නෙ හුදෙකලා විවේකයේ තනියෙන් කොහෙහරි ඉන්නකොට බයක් තැතිගැනීමක් ආවොත් සිහි කරන්න බුදුරජාණන් වහන්සේ. අරහං කියලා. මං කිව්වෙ දැන් සිහි කරන්න එහෙම දැනගෙන තියෙන්න එපායැ. සම්මා සම්බුද්ධයි කියලා. විජ්ජාචරන සම්පන්නයි, සුගතයි, ලෝකවිදූ අනුත්තර පුරිසධම්මසාරථී සත්තා දේවමනුස්සානං බුද්ධ භගවා කියලා සිහි කරන්න. ඒ වෙලාවට බුදුරජාණන් වහන්සේ ස්මරණය වුන් නැත්නම් ධර්මය සිහි කරන්න. ධර්මයත් සිහි වුන්නැත්නම් රහතන් වහන්සේලා, ආර්ය සංඝයා සිහි කරන්න. පින්වතුනි බය තැතිගැනීම් නැතිවෙලා යනවා. බුදුරජාණන් වහන්සේ වදාළා බයතැතිගැනීම් නැති වෙලා යනවා. තං කිස්ස හේතු? ඇයි එහෙම වෙන්නෙ? තථාගතෝ භික්ඛවේ අරහං සම්මා සම්බුද්ධො, තථාගතයන් වහන්සේ නිකෙළෙස් කෙනෙක්. සම්මා සම්බුදුවරයෙක්. වීතරාගෝ, රාගය දුරු කරපු කෙනෙක්. වීතදෝසෝ, තරහ දුරු කරපු කෙනෙක්. වීතමෝහෝ, මෝහය දුරු කරපු කෙනෙක්. අභීර්වච්චම්බි අනුප්‍රාසි චපලායති, බය වෙන්නෑ තැතිගන් නෑ. බයවෙලා පලාගෙන යන්නෑ, දුවන් නෑ, බුදුවරු එහෙම වෙන්නෑ. ඒකනේ අපේ තථාගත බුදුරජාණන් වහන්සේ දවසක් භාවනා සුවයෙන් ඉන්නකොට විශාල

ගලක් පෙරලෙනවා වගේ බුදුරජාණන් වහන්සේ බය කරන්න විශාල ශබ්දයක් එක්ක මාරයා ගලක් පෙරළුවානෙ. බුදුරජාණන් වහන්සේ වදාළා අහස පැලුනත්. පොළොව පැලුනත්, මේ මුහුද දෙබෑ වෙලා ගියත් බුදුරජාණන් වහන්සේගේ හිතට බයක් එන්නෑ. බුදුරජාණන් වහන්සේලා මේ කෙලෙස් සහිත ලෝකයෙන් ආරක්ෂාවක් රැකවරණයක් හොයන් නෑ, පින්වතුනි බුදුරජාණන් වහන්සේම සිහි කර කර හිටියත් ඇති. එච්චර හිතට රැකවරණයක් සැනසිල්ලක්. බයක් ඒ බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ සිහි කරලා, පින්වතුනි ඇත්තටම බුදුගුණ සිහි කරලා හදවතේ බුද්ධානුස්සතිය තියලා ශාස්තෘන් වහන්සේට ජීවිතේ පූජා කලාට පස්සෙ අවංකවම ආයෙ යන්තරයකින් පුරවන්න ආයෙ ආරක්ෂාවක් ඕන නෑ. ආයෙ ගේ මුලු වල දාන්න අමුතු ආරක්ෂාවක් ඕන නෑ. ඇතුලෙම තියෙනවා ආරක්ෂාව. හැබැයි හොඳටම තියෙන්නෙ ඕන. අපිට දැන් තියෙනවා රුවන්වැලි සෑයට අපි කට්ටිය යවනවා කරදර වලදී, අනේ යන්නන් වාලෙ යනවා, කියන්නන් වාලෙ කරනවා. හදවතින්ම එන් නෑ සරණක්. හදවතින්ම එන් නෑ. හදවතින්ම සරණ ආවා නම් එක වරක් ඇති. එක වරක් මුළු හදවතින්ම බුදුරජාණන් වහන්සේගේ සිරිපා වඳින එකම ඇති. ඒ බුදුරජාණන් වහන්සේ සිහි කරන එක ඇති, යක්ෂයො අමනුස්සයො හිස් ලූ ලූ අත දුවන්න. යං කිඤ්චි විත්තං ඉධවා හුරංවා සග්ගේසුවායං රතනං පණීතං ආදී වශයෙන් ඒ රතන සූත්‍රය ගාථාව සිහි කරලා පැන් ඉහපු පමණින්ම සියලු රෝගය සන්සිඳුනානෙ. කොච්චර ඒ කාලෙ, ඇයි සෑම ධර්මයක්ම මතක තියාගත්ත කාරුණික ආනන්ද මුණිඳුන්නෙ ඒක කලේ, භාග්‍යවතුන් වහන්සේගේ පැන් පාත්‍රයෙන්. කොහොම නම් පිහිට නොතිබී තියෙන්නද. ඇයි ආනන්ද ස්වාමීන් වහන්සේනෙ භාග්‍යවතුන් වහන්සේගේ බුදුගුණ කඳින් සැනහී හිටපු උත්තමයා. ඉතින් ඒ නිසා පින්වත්නි බුදුරජාණන් වහන්සේගේ බුදුගුණම හිතන්න. දැන් අපි අද ඉගෙන ගත්තා, සම්මා සම්බුදු ගුණය. එතකොට බුදුරජාණන් වහන්සේ සියල්ලම අවබෝධ කලේ ගුරු උපදේශ රහිතව. බුද්ධාගම කියලා, බුද්ධ ශාසනය කියලා, ශ්‍රී සද්ධර්මය කියලා, අද අපි යමක් ඉගෙන ගන්නවාද ඒ සියල්ලම බුදුරජාණන් වහන්සේ අවබෝධ කලේ ගුරු උපදේශ රහිතව. ස්කන්ධ, ධාතු, ආයතන, පටිච්ච සමුප්පාද මේ ඔක්කෝම. කර්ම, කර්ම විපාක, ඊළඟට ධ්‍යාන වල ස්වභාවය, ධ්‍යාන පිරිසිදු කරගන්න හැටි, විදර්ශනා කරන හැටි, අනිත්‍ය දුක්ඛ අනාත්ම මේ ඔක්කෝම බුදුරජාණන් වහන්සේ එක බුදු හදමඩලෙන් අවබෝධ කලේ, ගුරු උපදේශ රහිතව, කිසි කෙනෙක් කියලා දුන්නේ නෑ. ඒ නිසා මේ බුදුරජාණන්

වහන්සේගේ ශාසනයේ දේවල් අඩු වැඩි කරන්න ගියොත් එයා බුදුරජාණන් වහන්සේගේ සම්බුද්ධත්වයත් එක්කයි සෙල්ලම් කරන්නෙ. බොහෝ පව් රැස් වෙනවා. අපිට සරණ යන්නනෙ තියෙන්නෙ. පිහිට ගන්නනෙ තියෙන්නෙ. ඒ නිසා ඔබගේ හිතේ ගොඩාක් සම්බුදු බවේ, සම්බුදු ගුණ සිහිකරලා හිත ගොඩාක් පිරිසිදු කරගන්න. මේ බුදුගුණ හිතනකොට, හිතනකොට, හිතනකොට ගොඩාක් හිත පිරිසිදු වෙලා යනවා. ගොඩාක් සතුට උපදිනවා. ගොඩාක් සැනසිලා යනවා. ඒ නිසා අපි බුදුරජාණන් වහන්සේගේ අරහං ගුණය හිතුවා. මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ සියලු කෙලෙසුන් කරෙන් දුරු වූ හෙයින්, සියලු අකුසල ධර්මයන් ප්‍රහාණය කළ කොට, සියලු කුසල් ධර්මයන් උපදවාගත් හෙයින්, සියලු ආමිස පූජා ප්‍රතිපත්ති පූජාවන්ට සුදුසු වූ හෙයින්, නිකෙලෙස් මහරහතන් වහන්සේ නමක් වන හෙයින්, මාගේ බුදුරජාණන් වහන්සේ අරහං වන සේක කියලා. දැන් බුදු ගුණ සිහි කරන්න සම්මා සම්බුද්ධත්ව ගුණය. ඒ භාග්‍යවත් වූ අර්හත් වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේ මේ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය සත්‍යය ඥාණ වශයෙන්, කෘත්‍යය ඥාණ වශයෙන්, කෘතඥාණ වශයෙන් පරිවර්ත තුනකින්, ආකාර දොළසකින් ගුරු උපදේශ රහිතවම අවබෝධ කලා. මේ සියලූම ධර්මයන් ගුරු උපදේශ රහිතවම අවබෝධ කලා. මේ මුලු බුදු සසුනම ගුරු උපදේශ රහිතවම අවබෝධ කලා. බුදුරජාණන් වහන්සේ ගුරු උපදේශ රහිතව අවබෝධ කරපු ධර්මයෙන් තමයි මාර්ගඵල ලාභීන් බිහිවෙන්නෙ. අද අපි පිනක් හරි කරගන්නෙ උන්වහන්සේ සම්මා සම්බුදු වුන නිසා. වෙන ලෝකෙ කිසිම පොතක පතක කිසිම තියෙන තැනක, කිසිම දහමක, කිසිම දහමක මේ ධර්මය නෑ. බුදුරජාණන් වහන්සේමයි මේ ධර්මය වදාළේ. ඒ නිසා අපිට දුකෙන් නිදහස් වෙන්න නිවන කියන එක බුදුරජාණන් වහන්සේමයි වදාළේ. ඒ නිසා ගුරු උපදේශ රහිතවම සියල්ල අවබෝධ කලා මගේ බුදුරජාණන් වහන්සේ. කරුණාවෙන් අපිට දේශනා කලේ ඒ බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුදු වන සේක. සම්මා සම්බුද්ධ වන සේක. සම්මා සම්බුද්ධ වන සේක. කියලා අච්චර විස්තර වශයෙන් ඉගෙන ගත්ත දේ කෙටියෙන් සිහි කරනවා. භාවනාවට වෙලාව තියෙනවා නම් සම්මා සම්බුදු ගුණය නැවත නැවත, බුද්ධානුස්සතිය කියන්නෙ දැන් ඔය මම මෙච්චර පැයකට ආසන්න ප්‍රමාණයක් කිව්වානෙ, ඔය කියපු ටිකම සන්සිඳුණු හිතකින් සිහි කරනවා. සිහි කරන්න කරන්න හිතට එනවා. හරි සොඳරුයි බුද්ධානුස්සතිය. ඉතින් ඒ නිසා සම්බුදු බුදුරජාණන් වහන්සේගේ උතුම් සම්මා සම්බුදු ගුණයේ අනුහසින් ඔබට සෙත් වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ බත්තරමුල්ල පදිංචි පින්වත් තරණී කරුණාරත්න දියණිය ඇතුලු පවුලේ සියලු දෙනා. ඉතින් මේ පින්වතුන් අද දවසේ මේ සිද්ධ කල ධර්ම දානයේ පින, ඒ වගේම සම්පූර්ණයෙන්ම මේ ගෞතම බුද්ධ ශාසනයේ ගුරු උපදේශ රහිතව බුදුරජාණන් වහන්සේගේ හදමඩලෙන් පැනනැගුණු ශ්‍රී සද්ධර්මයත් එක්ක තියෙන්නෙ. ඒ උතුම් ශ්‍රී සද්ධර්මයේ අනුහසින්, භාග්‍යවතුන් වහන්සේගේ සම්මා සම්බුදු බවේ අනුහසින්, මේ රටටත් ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ වසංගතය දුරින්ම දුරු වෙලා ලෝක සත්ත්වයාට, මනුස්ස වර්ගයාට සෙත් වේවා. බය තැතිගැනීම් දුරු වේවා. උතුම් සම්බුදු සරණේ අනුහසින් සියලු දෙනාට සෙත් වේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙලා දෙවියෙන්ගේ දිව්‍ය යස ඉසුරු වඩා වර්ධනය වෙත්වා. පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වුන දෙවියෝ මේ පින්වතුන් ආරක්ෂා කරත්වා. ඔබ සියලු දෙනා ආරක්ෂා කරත්වා. අපේ මව් රට, මේ සියලු දෙනා මේ ලෝකය ආරක්ෂා කරත්වා කියලා දෙවිවරුන්ට පින් දෙමු. පරම පූජනීය ගෞරවීණීය අපගේ ලොකු ස්වාමීන් වහන්සේ පහළ නොවෙන්න අපිට මේ වගේ ශ්‍රී සම්බුද්ධත්වයේ අසිරියක් අහන්න ලැබෙන් නෑ. ගොඩාක් අය පින්වතුනි බණ කියන්නෙ, ගොඩාක් අය මතිමතාන්තර. පොඩ්ඩක් හරි කෙනෙකුට කරුණු ගොනු කරගන්න පුලුවන් වුනොත් එයා එයාගෙ බණක් කියලා දේශනා කරනවා. ඉතින් එහෙව් ලෝකෙ බුදුරජාණන් වහන්සේ මේක අවබෝධ කලේ, බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි කියලා අපේ හදවතට ඒත්තු ගැන්නුවේ ලොකු ස්වාමීන් වහන්සේ. ඇත්තටම පින්වතුනි බුදුගුණ ඉස්සෙල්ලාම හොඳට තේරුම් ගත්තේ ලොකු ස්වාමීන් වහන්සේ. උන්වහන්සේගෙන් අහලායි අපි තේරුම් ගත්තෙ. ඒ නිසා ඇත්තටම ගත්තොත් එහෙම ලොකු ස්වාමීන් වහන්සේගේ ගුණ කඳත් එක්ක බලනකොට අපි භික්ෂූන් වහන්සේලා ලක්ෂ ගාණක් එකතු වුනත්, උන්වහන්සේගේ ගුණ කඳ, උන්වහන්සේගේ තියෙන ශ්‍රද්ධාව, උන්වහන්සේගේ තියෙන ශාස්තෘන් වහන්සේ ගැන තියෙන ප්‍රසාදයට සම කරන්න බැරි තරම්. උන්වහන්සේ තමයි හැම බුදු ගුණයක්ම මෙහෙම විස්තර කරලා දුන්නෙ. එතකොටයි අපි දන්නෙ. ඉතින් ඒ නිසා පින්වතුනි, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. ඒ වාගේම සියලුම ස්වාමීන් වහන්සේලාත්, සිල් මෑණිවරුනුත්, පැවිදි අපේක්ෂක දරුවනුත් සියලු දෙනාට සම්මා සම්බුදු නුවණින්, බුදුරජාණන් වහන්සේ වදාළ ධර්මය අවබෝධ

කරගන්නට ලැබේවා. ඒ වගේම බත්තරමුල්ලේ පදිංචි පින්වත් තරණී කරුණාරත්න දියණියටත්, දෙමව්පියන්ටත්, පවුලේ සහෝදර සියලු දෙනාටත්, ඥාති හිතමිත්‍රාදීන්ටත්, පින් සිදු වේවා. ඔබ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සැප ලබත්වා. සම්මා සම්බුදු නුවණින් වදාළ ධර්මය අවබෝධ කරගන්න ලැබේවා. සම්මා සම්බුදු ගුණ නිතර සිහි වේවා. ඔබ සියලු දෙනාට මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට ලක්විරු ගුවන්විදුලියේ, ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්යමණ්ඩලයේ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. මේ රූපවාහිනියේ, ගුවන්විදුලියේ ඉදිරි පැවැත්ම පිණිස ආධාර උපකාර කරන සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් භාග්‍යවතුන් වහන්සේගේ උතුම් සම්බුදු සරණේ පිහිට ලැබේවා. ඒ උතුම් ධර්මය අවබෝධ කරගන්නට ලැබේවා. සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=NSyf-0_s1a0&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=23

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් ඔබ මේ අපි සරණ ගිය අපගේ ශාස්තෘන් වහන්සේ ගැන ඉගෙන ගන්නෙ. මේ දේශනා මුල ඉදලාම හොඳට ශ්‍රවණය කරන්න. පිළිවෙලකට ශ්‍රවණය

කරනකොට හිතට හොඳට ශ්‍රද්ධාව උපදිනවා. එතකොට ශ්‍රද්ධාව කියලා කියන්නෙ හොඳට නිවන් මාර්ගයේ ප්‍රවේශයක්. බලන්න ඔබට මතක ඇති පංචප්‍රධානි අංග තිබ්බා, නිවනට ප්‍රතිපදාව පුරුදු කරනකොට අංග පහකින් යුතු කෙනෙක් පුරුදු කලොත් ප්‍රතිඵල ලැබෙනවා. එයින් පළවෙනි එක ශ්‍රද්ධාව. අනිත් එක අපි සරණ ගිය අපේ ශාස්තෘන් වහන්සේ ගැන අපි කොච්චර නම් අහන්න ඕනද, කොච්චර නම් පැහැදෙන්න ඕනද. අනිත් එක කොච්චර නම් විස්තර තියෙනවාද, අපි මේ හෝරාවකට අඩු කාලයක් ඉතාමත් සංක්ෂිප්ත කරලානෙ මේ කියන්නෙ. වෙන ලෝකයේ වෙන ශාස්තෘන් වහන්සේලා නමක් ගැන වෙන කිසිම ආගමික නායකයෙක් ගැන මෙච්චර සිත පහන් කරවන, සන්සිඳවන, උතුම් විස්තර තියෙනවාද. ඉතින් ඒ නිසා අපේ ශාස්තෘන් වහන්සේ ගැන සිත පහදවාගෙන අදත් අපි ධර්මය ශ්‍රවණය කරමු. අද අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ පින්වත් ජී.ඒ. ගාත් මහත්මා, ඒ වගේම සිල්වියා ගාත් මැණියන්, ඒ වගේම ඩොමිනික් ප්‍රනාන්දු පුතණුවන් ඇතුළු පුණ්‍යනිධාන කළණ මිතුරු එකමුතුව විසින්. ඉතින් මේ පින්වතුන් විශේෂයෙන් අප්‍රේල් විසිවෙනිදා, මේ අවුරුද්දේ අප්‍රේල් විසි වෙනි දින මියපරලොව ගිය ඩෙන්සිල් ප්‍රේමරත්න මහත්මයා ඇතුලු ඥාතීන්ට පින් අනුමෝදනා කරන්නටත්, සියලු දෙනාට සෙත් පිණිසත් අද ධර්ම දානයට දායකත්වය දරලා තිබෙනවා. ඉතින් ලක්විරු ගුවන්විදුලිය සහ ශ්‍රද්ධා රූපවාහිනිය ඔස්සේ බොහෝ දෙනා මේ ධර්මය ශ්‍රවණය කරනවා. ඉතින් ඒ පින ඔබට අනුමෝදන් වෙනවා ඒ දායකත්වය දැරූ පින්වතුන්ට. අපි මීට කලින් බුදුරජාණන් වහන්සේගේ අරහං සම්බුදු ගුණය ගැන, සම්මා සම්බුද්ධ කියන ගුණය ගැන ඉගෙන ගත්තා. එතකොට ඒ අනුසාරයෙන් ගොඩාක් හිතන්න ඕන. මේ ධර්මය බුද්ධානුස්සති මනසිකාරය, නැත්නම් ඒ බුදුගුණ හිතන එක හිතේ හැකියාවත් එක්ක හොඳට වඩන්න පුලුවන් එකක්. සාමාන්‍යයෙන් හිත එක අරමුණක තියාගන්න බැරිව, ඒ කියන්නෙ දැන් අපි උදාහරණයක් ගමු, ආනාපානාසති භාවනාව වගේ. ඒ වගේ භාවනාවකට ගොඩාක් අයට හිත ගන්න අමාරුයි. මොකද ආනාපානසතියේ අරමුණේ තියෙන්නෙ අරමුණු දෙකක්. ආශ්වාසයත්, ප්‍රාශ්වාසයත් කියන දෙක. නමුත් බුද්ධානුස්සතිය වාගේ භාවනා අරමුණක් ගත්ත ගමන් අරහං බුදු ගුණය, සම්මා සම්බුද්ධ ගුණය ඒක ඇතුලෙ ඒ විරාගී බව, කෙලෙස් නැති බව, සියලු ධර්මයන් ගුරු උපදේශ රහිතව අවබෝධ කරපු බව මනසිකාර කරන්න තියෙන්නෙ. එතකොට ගොඩාක් දේවල් හිත හිතා ඉන්න පුරුදු වෙච්චි කෙනෙකුට බුදුගුණ හිතන්න ගත්තු ගමන්

අන්න අකුසල් බැහැර වෙලා  කුසල් උපදිනවා. බොහෝ දෙනෙකුට හොඳයි. බොහෝ දෙනෙකුට නෙවෙයි සියලු දෙනාටම  හොඳ භාවනාවක් තමයි බුද්ධානුස්සතිය. තමන් ශාසනයේ චංචල වෙන්නැතිව, වෙනස් වෙන්නැතිව, හොඳට ශාසනයට පැහැදිලා, මේ බුද්ධ ශාසනයේ හොඳට ඉන්න පුලුවන්, පව් කරගන්නැතිව, බුද්ධානුස්සතිය තියෙන කෙනෙකුට. ඒ නිසා තමයි බුද්ධානුස්සති මෙත්තාච අසුභං මරණස්සති ඉතිමජ්ජ චතුමාරක්ඛා භික්ඛු භාවේන සීලවා, සිල්වත් භික්ෂුව යෝගාවචර තෙමේ මේ බුද්ධානුස්සති ආදී සතර කමටහන් අනිවාර්යයෙන් වඩන්න කියලා පුරාණ ආචාර්යවරුන් කියලා තියෙන්නෙ. බුද්ධානුස්සතියෙන් එයා ශාසනයේ හොඳට රැදෙනවා. එහෙ මෙහෙ යන්නැතිව, මිත්‍යා දෘෂ්ටි වලට යන්නැතිව හොඳට ශාසන ධර්මයේ රැදෙනවා. මොකද භාවනා අරමුණක් ඇවිල්ලා ඒකෙදි තමන්ට යම් මොන මොනවාහරි තේරෙනවා නම් ඒවා ධර්මයෙහි ලා බහා බලනකොට ඒක ගැලපෙන්නැත්නම්, එයා ශ්‍රද්ධා සිතින් අනුශාසනා කරනවා, බුදුරජාණන් වහන්සේ සියල්ල දන්නේ, බුදුරජාණන් වහන්සේ සියල්ල දක්නේ. ඒ නිසා නුඹ ශ්‍රාවකයා. ඒ නිසා ශාසනයට අනුලෝම දේ නුඹ කරන්න ඕන කියලා හිත අවවාද කරනවා. ඒක වෙන්නේ ශ්‍රද්ධාවත් එක්ක. ඊළඟට විශේෂ කාරණාවක් තියෙනවා අපි පුරුදු වෙන්න ඕන බුද්ධානුස්සතිය මෙනෙහි කරනකොට පින්වතුනි දැන් රාගය කැමැති කෙනා, ඒ රාගය ගැන එක එක දේවල් හිතනවා රාගය වැඩි කරගන්න. අද එකක් හිතනවා, හෙට එකක් හිතනවා ඒ වගේ නොයෙක් විදියේ. ඊටපස්සෙ ඊට අනුරූප රූප බලනවා, වීඩියෝ බලනවා, ඊට අනුරූපව කතා කරනවා, ඉරියව් පවත්වනවා, ඒ ඔක්කෝම එයා කරන්නෙ රාගය වැඩි කරගන්න. එතකොට එයාගේ හිතේ රාගය වැඩිවෙවී රාගය වැඩි වෙවී යනවා. ඕන්න ඕක සසරේ ස්වභාවයක්. හිතේ ස්වභාවයක්.  ඔන්න ඔය ස්වභාවය පෙරළන්න ඕන. ඒකට කරන්න තියෙන දෙයක් තමයි බුද්ධානුස්සතියත් එක එක විදියට හිතන්න ඕන. බුදුගුණ අහන්න ඕන, බුදුගුණ කියන්න ඕන, බුදුගුණ ගැන බලන්න ඕන, බුදුගුණ ගැන කියවන්න ඕන, බුදුගුණ ගැන පැහැදීම ඇතිකරගන්න ඕන. අන් අය සමාදන් කරවන්න ඕන. ඒ වාගේ නිතර තනියෙන් මනසිකාර කරන්න ඕන. ඒ වාගේ ගොඩාක් ක්‍රියා, නොයෙක් ආකාරයෙන් බුදුගුණ හිතන්න ඕන. එතකොට හොඳට හිතේ බුද්ධානුස්සතිය වැඩි වෙවී වැඩි වෙවී යනවා. තරහා තියෙන මනුස්සයා තරහා වැඩිකරගන්න බලන්න, ඕකා මට මෙහෙම කියලා තියෙනවා, මෙහෙම කරලා තියෙනවා, අහවල් දවසේ මෙහෙම කරලා තියෙනවා කියලා ඒවා හිතන්න හිතන්න තරහා

වැඩිවෙනවා. ඒ වගේ තමයි බුදුරජාණන් වහන්සේගේ බුදුගුණත් නොයෙක් නොයෙක් ආකාරයෙන් හිතන්න හිතන්න බුද්ධානුස්සතිය වැඩි වෙනවා. හොඳට මතක තියාගන්න ඒක. ඒ නිසා පුරුදු වෙන්න, ගුණ වශයෙන්, විස්තර වශයෙන් මේ ධර්මය ඉගෙන ගන්න. ඉතින් ඒ නිසා අද අපි ඉගෙන ගන්නේ විජ්ජාචරණ සම්පන්න ගුණය. බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ නවයේ අරහං, සම්මා සම්බුද්ධ, විජ්ජාචරන සම්පන්න, සුගත, ලෝකවිදූ, අනුත්තරෝ පුරිසධම්ම සාරථී, සත්තා, දේවමනුස්සානං, බුද්ධ භගවා. එතකොට එයින් අරහං ගුණය, බුදුරජාණන් වහන්සේ සියලු කෙලෙසුන් දුරු කලා. ඒ වගේම සියලු කුසල් ඉපදුවා. ඒ වගේම සියලු කෙලෙස් නසලා අර්හත්වයට පත්වුනා. තුන් ලෝ වාසීන්ගේ, සියලු ලෝ වැසියන්ගේ , ආමිස පූජා, ප්‍රතිපත්ති පූජාවන්ට සුදුසුයි. රහසින් වත් පව් කලේ නෑ. ඒක තමයි අරහං ගුණය. සම්මා සම්බුද්ධ කියලා කිව්වෙ මේ සියලූම ධර්මයන් ගුරු උපදේශ රහිතව අවබෝධ කලා, සියල්ල අවබෝධ කලා. එතකොට චතුරාර්ය සත්‍යය ධර්මය අකාර දොළසකින් පරිවර්ත තුනකින් ගුරු උපදේශ රහිතව අවබෝධ කලා, සම්මා සම්බුද්ධයි. සියලු දුක් නිවාලන, අමා මහ නිවන, ගුරු උපදේශ රහිතව අවබෝධ කලා. සම්මා සම්බුද්ධයි. එතකොට විජ්ජාචරණ සම්පන්න කියලා කියන්නෙ විජ්ජා කියලා කියන්නෙ, මෙතන විජ්ජාචරණ කියලා කියන්නෙ විද්‍යාචරණ, විජ්ජා කියන්නෙ විද්‍යාව, විද්‍යාව කියන්නෙ අවබෝධ ඥාණය, චරණ කියලා කියන්නෙ ඊට අනුව හැසිරීම, අවබෝධයට අනුවම හැසිරෙනවා කියන අර්ථයෙන් මගේ බුදුරජාණන් වහන්සේ විජ්ජාචරණ සම්පන්නයි. දැන් සාමාන්‍යයෙන් අවබෝධයට අනුව කෙනෙක් ජීවත් වෙන්නෑ කියන එක තේරුම් ගන්න කියන්නම්, දැන් අපි බලමු සාමාන්‍යයෙන් කෘෂි විද්‍යාව ගැන. කෘෂි විද්‍යාව උගන්වන කෙනෙක් ඉන්නවා. එයා ගෙදර වැඩ කරන්නෙ කෘෂි විද්‍යාවට අනුවද, නෑනෙ. ඒ වාගේ සමහර වෙලාවට මහාචාර්යවරයෙක් ඉන්නවා, කථිකාචාර්යවරයෙක් ඉන්නවා, ඊටපස්සෙ ළමයින්ට හොඳට ලෙක්චර්ස් දෙනවා. ඊටපස්සෙ ගෙදර ඇවිල්ලා බීලා නිකං බේබද්දෙක්. ඊළඟට මහා ලොකුවට ලෙක්චර් දෙනවා. ගෙදර ඇවිල්ල බවලතාගෙන් බැනුම් අහලා ඔහේ ඔළුව පාත් කරගෙන ඉන්නවා. එතකොට එයාගෙ අතන තිබ්බා තේජස මෙතන නෑනෙ. එතකොට එයාලගේ දැනුමයි, ජීවිතයයි දෙකක්. ගොඩාක් අයගේ දැනුමයි ජීවිතයයි දෙකක්. සමහර වෙලාවට නළු නිළියන්ගේ බලන්න. එයාලට රඟපාන දේවලුයි, ජීවත් වන ආකාරයයි, පෞද්ගලික ජීවිතයයි, ජීවිත ගොඩාක්. ගොඩාක් අයගේ චරිත ගොඩයි. සැබෑ ජීවිතයේ ගොඩාක් දුකයි.

සැබෑ ජීවිතයේ ඇත්තටම තියෙන්නෙ ප්‍රශ්න. නමුත් මවාගත්ත ලෝකෙ ගොඩාක් හිනාව තියෙනවා. මවාගත්ත ලෝකෙ ගොඩාක් ප්‍රෞඩත්වය තියෙනවා. මවාගත්ත ලෝකෙ ගොඩාක් වැදගත්කම තියෙනවා. නමුත් සැබෑ ජීවිතයේ වැදගත් නෑ, සැබෑ ජීවිතයේ උතුම් නෑ, ඒකෙ ගොඩාක් ජරාව තියෙන්නෙ. ඉතින් මේවා දිහා බලනකොට තේරෙනවා, මේ මිනිස්සුන්ගෙ ලෝකෙ තියෙන වෙනස. මගේ බුදුරජාණන් වහන්සේ එහෙම නෑ, යමක්ද අවබෝධ කළේ, ඊට අනුවයි හැසිරීම. ඊළඟට යම් හැසිරීමකින් යුක්තයි ද, ඒ තුළින් තමයි අවබෝධ ඥාණයට පත්වුනේ. දැන් අපි ඒකට උදාහරණයක් ගමු, බුදුරජාණන් වහන්සේ තුළ තියෙන විශේෂ ප්‍රධාන ඥාණ තුනක්නෙ, ත්‍රිවිද්‍යා. බුදුරජාණන් වහන්සේ සම්බුදු වන රාත්‍රියේ පෙරයම ලබාගත්ත ඥාණය මධ්‍යම ලබාගත් ඥාණය, අළුයම ලබාගත් ඥාණය. පෙරයම ලබාගත්තේ, පුබ්බේනිවාසානුස්මති ඥාණය. එතකොට පුබ්බේනිවාසානුස්මති ඥාණය කියලා කියන්නෙ පෙර ජීවිත දැකීමේ ඥාණය. කෙළවරක් නෑනෙ. එතකොට උන්වහන්සේගේ පෙර ජීවිත දැකීමේ ඥාණය කොච්චර උපයෝගී කරගත්තද ඒ සම්බුදු ජීවිතේ. මේ සංසාරයේ කලින් බුද්ධ ශාසන වල පාරමී ධර්මයන් පුරපු පින් පුරපු ඒ සියලු දෙනාට අමා මහා නිවන ලබලා දෙන්න, යොදුන් කොයිතරම් තිබ්බත් උන්වහන්සේ වඩිනවානෙ. ඊළඟට පෙර ජීවිත දැකීමේ නුවණින් බුදුරජාණන් වහන්සේ ශ්‍රවකයාට දහම් දෙසුවානෙ. ශ්‍රාවකයන්ට අවබෝධ කෙරෙව්වානෙ. පින්වත් මහණෙනි, ඔබ සසරේ කුකුළො වෙලා බෙල්ල කැපිලා ගලා ගිය ලේ දහර සතර මහා සාගරයේ ජලයට වැඩියි. හරක් වෙලා, ඌරෝ වෙලා, සල්ලාලයො වෙලා, එළු, බැටළුවෝ වෙලා මේ සංසාරෙ විඳුපු දුක ඉවරයක් නෑ. මේවා දකින්න, පින්වත් මහණෙනි, මේවා තේරුම් ගන්න. මේ සසර දුකින් නිදහස් වෙන්න කියලා බුදුරජාණන් වහන්සේ නොයෙක් ආකාරයෙන් නන් අයට දහම් දෙසුවා, ඒ අය ධර්මය අවබෝධ කලා. එතකොට දවසක් බුදුරජාණන් වහන්සේ වඩිනකොට එක ගෘහපතියෙක් ඇවිල්ලා මගේ පුතේ නුඹ කොහෙද මෙච්චර කාලයක් ගියේ, නුඹ දකින්න නැතිව මා විඳපු දුක, නුඹගේ මෑණියෝද සිටිනවා බලාගෙන, වඩින්න මාගේ පුත්‍රය කියලා ඇදගෙන ගියා භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රී හස්තයේ එල්ලිලා. සංඝයා බැලුවා මේ මොකද කියලා. අන්න බුදුරජාණන් වහන්සේගේ පෙර ජිවිත දැකීමේ ඥාණය. ජීවිත පන්සීයක් අම්මයි තාත්තයි වෙලා ඉඳලා. ජීවිත පන්සීයක් ලොකුතාත්තයි, ලොකු අම්මයි වෙලා ඉඳලා. ජීවිත පන්සීයක් බාප්පයි, පුංචිඅම්මයි වෙලා ඉඳලා. ජිවිත පන්සීයක් මාමයි නැන්දයි වෙලා ඉඳලා.

එතකොට බුදුරජාණන් වහන්සේට අර කියන වචනයේදි චංචලයක් ඇතිවෙන් නැනෙ. බුදුරජාණන් වහන්සේගේ අවබෝධ ඥාණයත් තියෙනවා, හැසිරීමත් තියෙනවා. කොච්චර නම් සිවුරු හැරලා යන්න ගිය අය බේරගෙන තියෙනවාද පෙර ජීවිත දැකීමේ ඥාණයෙන්. මේ පින්වත් භික්ෂුව ඔබ මොකද කරන්නෙ, කලින් ඔහොමද හිටියේ කියලා බුදුරජාණන් වහන්සේ දහම් දෙසනවා. ධර්මය දේශනා කරනකොට හරී පුදුමයි. දැන් බුදුරජාණන් වහන්සේ ළඟ එක භික්ෂුවක් ඇවිල්ලා ඒ භික්ෂුවට අවවාද කලා කියලා සිවුරත් ගලවලා දාලා මිනිස්සු මැද්දෙන් යන්න හැදුවා. බුදුරජාණන් වහන්සේ වදාළා මේ බලන්න. කලින් සංසාරේ ලැජ්ජා බය කියන දේවධර්මය හොය හෙයා හිටියා මතක නැද්ද. දැන් කෝ ඒ ලැජ්ජා බය කියලා සසරේ  විස්තර කියනවා. ඒ මොහොතේම මාර්ගඵල ලබනවා. පෘථග්ජනයෙක් විදියට සිවුර වීසි කලා, මගඵල ලැබූ එක්කෙනෙක් විදියට සිවුරට වැඳලා ආපහු පොරවගන්නවා. පෙරජීවිත දැකීමේ ඥාණයෙන්නෙ. අංගුලිමාල නම් සොරා, මේ වනයේ මිනිස්සු මරාගන සිටිද්දි බුදුරජාණන් වහන්සේ දැක්කා එදා සුතසෝම කාලයේත් ඔහුව බේරගත්තෙ මම. ඒ නිසා මම එතෙන්ට යා යුතුයි. එතකොට බුදුරජාණන් වහන්සේට පෙර ජීවිත දැකීමේ ඥාණය තියෙනවා. ඊට අනුවම හැසිරීමත් තියෙනවා. විජ්ජාචරණ සම්පන්නයි. මූලික වශයෙන් ඔහොම තේරුම් ගන්න, අපි තව විස්තර කරන්නම්. ඊළඟට බුදුරජාණන් වහන්සේ දැන් ගොඩාක් අය විජ්ජාචරණ සම්පන්න ගුණය කියනකොට සේක සූත්‍රයේ, අම්බට්ඨ සූත්‍රයේ තියෙන විදියට අෂ්ට විද්‍යා පසලොස් චරණ ධර්මයන් ගැන විස්තර කරනවා. අෂ්ටවිද්‍යා පසළොස්චරණ ධර්මයන් සේක ප්‍රතිපදාව විදියට බුදුරජාණන් වහන්සේ දේශනා කරලා තියෙන්නෙ, ඒ කියන්නෙ නිවන කරා යන ශ්‍රාවකයෙක් හික්මිය යුතු වැඩපිළිවෙල විදියට. එතකොට නමුත්, ඒකෙ ගැටළුවක් නෑ, ඒ විදියට දරාගෙන ඉන්න කෙනෙකුට, කොහොමටත් මේ සියලුම විද්‍යාවන් අතරින්, සියලු ඥාණයන් අතරින් අග්‍ර බුදුරජාණන් වහන්සේ. ඒ වගේම මේ සියලු ප්‍රතිපදාවන්ගෙන් පරතෙරට පත්වුනේ බුදුරජාණන් වහන්සේ. ඊළඟට බුදුරජාණන් වහන්සේ පුරුදු නොකරපු දෙයක් තවත් කෙනෙකුට කියලා නෑ. සීලය ගැන අන් අය හික්මෙව්වෙ ඒ සීලය තමන් පුරුදු කරලා. ඉන්ද්‍රිය සංවරය ගැන අනික් අය හික්මෙව්වෙ තමන් ඒක පුරුදු කරලා. ඊළඟට බුදුරජාණන් වහන්සේ ජාගරියානුයෝගය ගැන අනික් අයට දේශනා කලේ තමන් ජාගරියානුයෝගය පුරුදු කරලා. තමන් පුරුදු කරලා ඒවා. ඒ නිසා ඒ ප්‍රතිපදාවෙන් අග්‍රයි. ඒ නිසා අෂ්ටවිද්‍යා පසළොස්චරණ ධර්මයන්ගෙන්

ශාස්තෘන් වහන්සේ පරතෙරටම පත්වුනා. එතකොට පෙරජීවිත දැකීමේ ඥාණය, එතකොට පින්වතුනි පෙරජීවිත දැකීමේ ඥාණය අතුරින් බුදුරජාණන් වහන්සේ අග්‍රයි කියන එක උන්වහන්සේ විජ්ජාචරණ සම්පන්න ගුණය සුලුපටු නෑ. පින්වතුනි සාමාන්‍යයෙන් පෙර ජිවිත දකිනවා තාපසයින් වහන්සේලා, වෙන ඍෂීන් වහන්සේලා, ඔය බණභාවනා කරගෙන ඉන්නකොට තාපසයො, පෙරජිවිත දකිනවා. ඒක කණාමැදිරි එළියක් වගේ. මේ බුද්ධ ශාසනයේ භික්ෂුවකුත් පෙර ජීවිත දැකීමේ ඥාණය උපද්දවගන්නවා. ඒ භික්ෂුවක් උපද්දගන්න ඒ ඥාණය පහනක එළියක් වගේ. අග්‍රශ්‍රාවක උත්තමයෝ පෙරජීවිතදැකීමේ ඥාණය උපද්දවගන්නවා. ඒ ඥාණය ඉරබටු තරුවක් වගේ. උපමාවට ගත්තොත්. ඊටපස්සෙ පසේ බුදුරජාණන් වහන්සේලාට පෙර ජීවිත දැකීමේ ඥාණය තියෙනවා. ඒ ඥාණය සඳ මඩල වගේ. මගේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ පෙර ජිවිත දැකීමේ ඥාණය හිරු මඩල වගේ, කාට සසඳන්නද, කුමට සසඳන්නද. ඒ තාක් බුදුරජාණන් වහන්සේට ඒ පෙර ජීවිත දැකීමේ ඥාණය වැසුනු තැනක් නෑ. එතකොට බුදුරජාණන් වහන්සේ දවසක් අර බලන්න ඒ ඥාණය උන්වහන්සේගේ ජීවිතයත් එක්ක එකතු වෙලා තියෙන හැටි, විජ්ජාචරණ බුදුරජාණන් වහන්සේ, දවසක් බ්‍රාහ්මණයෙක් විශාල වෘක්ෂයක් උගුල්ලනවා. කුමකටද බ්‍රාහ්මණය මේ? භාග්‍යවතුන් වහන්සේ විමසුවා. ස්වාමීනී මට හිතුනා කවුරුවත් වළේ ලාපු නැති තැනක භූමදානය කරපු නැති තැනක මගේ දේහය භූමදානය කරන්න ඕන කියලා. බ්‍රාහ්මණය නම මොකක්ද, ඔන්න ජානුස්‍රෝණ කියල හරි ඔහුගේ නම කිව්වා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, ඔබ ඔය නමින්ම, ඔය නමින් දාහතර දහස් වතාවක් මෙතන වලේ දාලා තියෙනවා කියලා. එතකොට ඔබගේ නම මොකක්ද, කින්ද මන්ද ඔය අහන තත්පරේට සසරම බැලුවානෙ. එතකොට ඔතන මැරිච්ච ජීවිත ගාණත් බැලුවා, ජානුස්‍රෝණ නමින් මැරිච්ච ජිවිත ගාණත් බැලුවා. කොච්චර වේගෙන් ක්‍රියාත්මක වෙනවද ශාස්තෘන් වහන්සේගේ පෙර ජීවිත දැකීමේ ඥාණය. ඒ විද්‍යාව අසාමාන්‍යයි. දැන් අර බක නම් බ්‍රහ්මයාට දීර්ඝායුෂ නිසා පේන් නෑනෙ සසර. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒවා කරපු කර්ම, පින, ඉපදුනු හැටි, කලින් හිටපු තැන්, අනාගතයට යන තැන්, ඒ ඔක්කොම විස්තර කරලා දුන්නනෙ බුදුරජාණන් වහන්සේ. ඒක පුදුම සහගතයි ශාස්තෘන් වහන්සේගෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ විද්‍යාවන් අතර තිබුනා චුතූපපාත ඥාණය. සත්ත්වයන් උපදින මැරෙන හැටි. එතකොට බුදුරජාණන් වහන්සේ දකිනවා මේ කෙනා දැන් මෙතනින් චුත වුනා, අහවල්

තැන ඉපදුනා. චුති උපත දකිනවා. සුගති දුගති දකිනවා. පින් පව් වල කර්ම විපාක දකිනවා. යන පාරෙන් කොහෙටද ගිහිල්ලා වැටෙන්නේ කියලා දකිනවා. මේ භාග්‍යවතුන් වහන්සේගේ අවබෝධය, ඒ අවබෝධය මුලු ජීවිතේම එකතු වෙලා තිබ්බා. විජ්ජාචරණ සම්පන්න. අනන්ත අවබෝධයෙන් යුතුව ඊට ගැලපෙන සේ හැසිරුණා. ඊළඟට බුදුරජාණන් වහන්සේ තුළ තිබුනා ඥාණයක් අසවක්ඛයා ඥාණය. කෙලෙස් නෑ, කෙලෙස් ප්‍රහාණය කරපු ඥාණය. දැන් ඒ කෙලෙස් ප්‍රහාණය කරපු ඥාණය බුදුරජාණන් වහන්සේගේ මුළු ජීවිතය පුරාම තිබ්බානෙ. මුළු ජීවිත කාලෙම කෙලේශයක් ඇවිස්සිලා නෑනෙ. කෙලෙස් නැති නිසානෙ. ඉතින් අපි මේ ගැන සහතික කුමට දෙන්නද, මාරයා බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා කියනවා, අවුරුදු සතක්, ඒ කියන්නෙ බෝධිසත්ත්වයෝ දුෂ්කරක්‍රියා කරන අවුරුදු හයයි, සම්බුදු වෙලා තවත් අවුරුද්දක්, අවුරුදු හයක් තියන පියවරක් පාසා ආවා කියනවා පිටිපස්සෙන් එක පියවරක්වත් මිස් වෙන්න දෙන්නැතිව. දුෂ්කරක්‍රියා කරන අවුරුදු හයයි, ඊටපස්සේත් අවුරුද්දක් සම්බුදු වෙලා. ඒ එක පියවරකවත් මාරයාට අල්ලන්න පුලුවන් විදියේ කෙලේශයක් දැක්කෙ නෑ කියනවා. සම්බුදු වුනාට පස්සෙ කවර කතාද, දුෂ්කරක්‍රියා කරන කාලෙවත් මේ මාරයාට අල්ලන්න පුලුවන් විදියෙ කෙලේශයක් තිබ්බෙ නෑ කියනවා. කොච්චර දමනයක්ද. එතකොට සම්මා සම්බුදු වුනාට පස්සෙ නිකෙළෙස් බව. ඉතින් ඒ නිසා ඒ මුළු ජීවිතේම තිබ්බෙ බුදුරජාණන් වහන්සේගේ තියන පියවරක් පාසා අවබෝධය තියෙනවා. බුදුරජාණන් වහන්සේ එක පියවරක්වත් අහේතුකව තියන් නෑ. එක වචනයක්වත් අහේතුකව කතා කරන් නෑ. එක සිතුවිල්ලක්වත් අහේතුකව හිතන් නෑ, මේ බුදුරජාණන් වහන්සේගේ අවබෝධයට අනුව ජීවත් වීම නේද. වැදගත්කම නේද. විජ්ජාචරණ සම්පන්න බව නේද. මේ වාගේ අවබෝධයට අනුව හැසිරෙන තවත් ශාස්තෘන් වහන්සේ නමක් බුදුරජාණන් වහන්සේ හැර තවත් වෙන කොහෙන් ද. ඉතින් පින්වතුනි ඔබට අපි මතක් කලේ, පසළොස්චරණ අෂ්ටවිද්‍යා. අෂ්ටවිද්‍යා කියලා කියන්නෙ විපස්සනා ඥාණය, මනෝමය ඍද්ධි ඥාණය, ඍද්ධිවිධ ඥාණය, දිබ්බසෝත ඥාණය, පරචිත්ත විජානන ඥාණය, පුබ්බේනිවාසානුස්මති ඥාණය, දිබ්බචක්ඛු ඥාණය, ආසවක්ඛය ඥාණය. විපස්සනා ඥාණය කියලා කියන්නේ බුදුරජාණන් වහන්සේට යමක් විග්‍රහ කර කර අනිත්‍ය වශයෙන් දුක් වශයෙන් අනාත්ම වශයෙන් උන්වහන්සේට සියල්ල වැටහෙනවා. ඒ අනිත්‍ය දුක්ඛ අනාත්ම වශයෙන් වැටහෙන නුවණට කියනවා විපස්සනා ඥාණය. සත්‍ය ස්වභාවය

වැටහෙන ඥාණය. ඉතින් සත්‍ය ස්වභාවයක් වැටහෙච්චි ඥාණයක් උන්වහන්සේට තිබුනා බෝ මුල ලැබුන. ඒ ඥාණයට අනුව තමයි මුළු ජීවිතේම ගතවුනේ. මනෝමය සෘද්ධි ඥාණය. මනෝමය සෘද්ධි ඥාණය කියලා කියන්නෙ පින්වතුනි, අපිට දැන් අපේ ශරීරයේ සමාධියෙන් හතරවෙනි ධ්‍යානයෙන් මේ ශරීරයේ තියෙන මනෝමය කායක් තියෙනවා ඒක ගන්න පුලුවන් එළියට. හරියට තණකොල ගහකින් ගොබය ඇදලා ගන්නවා වගේ. එතකොට තණකොළ ගහ වෙනයි, ගොබය වෙනයි. ඒ වගේ මේ ශරීරයෙන්ම මේ වගේ ඉඳුරන් තියෙන, මේ වගේම රූප ස්වභාවය තියෙන තව එක්කෙනෙක් එළියට ගන්න පුලුවන්. ඒක භාවනාවෙන් කරන්නෙ. ඊටපස්සෙ ඒකෙන් එක එක දේවල් මවන්න පුලුවන්. මනෝමය සෘද්ධි ඥාණයෙන්. ඊළඟට කඩුවකින් කොපුව ගන්නවා වගේ. කඩුව වෙනයි, කොපුව වෙනයි. ඒ වගේ මේ ශරීරයෙන්ම මේ වාගේ සියළු අඟපසඟ තියෙන වෙනම ශරීරයක් ආපහු ගන්න පුලුවන්. භාවනාවෙන් කරන්නෙ. ඒ මනෝමය කය දෙව්ලොවට යවන්න පුලුවන්. ඒ වගේ තියෙනවා. එතකොට මනෝමය කය එළියට අරගෙන චුල්ලපන්ථක ස්වාමීන් වහන්සේ ඒකනෙ එක වාගේ දාහක් මැව්වෙ. මනෝමය සෘද්ධීන් ඇති භික්ෂූණ් අතර අග්‍ර චුල්ල පන්ථක මහරහතන් වහන්සේ. භාග්‍යවතුන් වහන්සේට එහි අග්‍ර ස්වභාවය. එකවගේ බුදුවරු දහස් ගණන් මවන්න පුලුවන් මනෝමය සෘද්ධි ඥාණයෙන්. ඊටපස්සෙ පින්වතුනි බුදුරජාණන් වහන්සේට සෘද්ධිවිධ ඥාණය තියෙනවා. සෘද්ධිවිධ ඥාණය කියලා කියන්නෙ මහපොළොවෙ කිමිදෙන්න පුලුවන්. ජලයේ සක්මන් කරන්න පුලුවන්. ඊළඟට මේ පර්වත, කඳු ශිඛර, වේලි, බිත්ති හරහා විනිවිද යන්න පුලුවන්, ඊළඟට එක්කෙනෙක් වෙලා දාහක් වගේ පෙනී ඉන්න පලුවන්. දාහක්ව ඉඳලා එක්කෙනෙක් වගේ පෙනී ඉන්න පුලුවන්. ආකහේ සක්මන් කරන්න පුලුවන්. ආකාසේ යන්න පුලුවන්. සෙය්‍යතාපි පක්ඛෙ සකුණෝ, හරියට කුරුල්ලෙක් වගේ. ඊටපස්සෙ මේ සා ආනුභාවසම්පන්න ඉර සඳ පවා අතින් අල්ලන්න පුලුවන්. අකනිටා බ්‍රහ්ම ලෝකයටත් එහා සෘද්ධියෙන් .. කරන්න පුලුවන් බුදුරජාණන් වහන්සේට. එතකොට බුදුරජාණන් වහන්සේට ජලයේ සක්මන් කරන්න ඕන වෙනකොට හිතින් අධිෂ්ටාන කරනවා පඨවි කියලා. පෘථිවි සංඥාව අධිෂ්ටාන කරනකොට වතුර ටික පේන්නෙ පොළොව වගේ. ඉතින් කිසී චකිතයක් නැතිව ඇවිදිනවා. පොළොවේ කිමිදෙන්න ඕනවෙනකොට පොළොව ආපෝ ධාතුව විදියට අධිෂ්ටාන කරනවා. වතුරෙ ගිලෙනවා වගේ පොළොව ඇතුලෙ ගිලෙනවා. ඊටපස්සෙ ආකාසෙන් යනකොට හිතේ සැහැල්ලු බවටම කය සැහැල්ලු කරනවා. ඊටපස්සෙ මේ කයෙන් සැහැල්ලු

කය මුදාහරිනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේට විනිවිද යන්න ඕනවෙනකොට මේ පර්වත, කඳු ශිඛර හරහා, ඒක වාතය විදියට, අවකාශය විදියට අධිෂ්ටාන කරනකොට ඒක හරහා යනවා. දැක්කද මනසකින් කරන්න පුලුවන් දේවල් පින්වත්නි. ඉර හඳ තමන්ට ස්පර්ශ කරන්න පුලුවන්. ඉර හඳ තමන් ළඟට අරන් මෙහෙම අල්ලන්න පුලුවන්. ඉර හඳ තමන්ගේ දණහිස් දෙකට තියන් ඉන්න පුලුවන්. ආසනයක් විදියට ඉඳගෙන ඉන්න පුලුවන්. කැමැති නම් ඉරහඳ හිසට කොට්ටයක් විදියට තියාගෙන සැතපෙන්න පුලුවන්. අපි කියමුකො ඉරහඳ, දැන් මේක ඍද්ධියෙන් කරන්නෙ. දැන් ඉරහඳ මෙහෙම ළඟට ආවා කියලා. දැන් මිනිස්සුන්ට පේන ඉරට මොකවක් වෙන්නෑ, ඇයි ඉර එහේම්මම යනවා. හැබැයි මේ වෙන ඉරකුත් නෙවෙයි බුදුරජාණන් වහන්සේ ඇල්ලුවෙ. යන ඉරත් නෙවෙයි. ඒ කියන්නෙ මේ යන ඉර, වෙන ඉරකුත් නෙවෙයි, ඒ වගේම මේ ඉරමයි ඇල්ලුවෙ, හැබැයි මේ ඉර මෙහෙම ඇල්ලුවා, කොට්ටෙට තියාගත්තා කියලා අර මේ මිනිස්සුන්ට පේන ඉර කිසිම වෙනසක් වෙන්නෑ. දැන් බුදුරජාණන් වහන්සේ මේ ඉරමඩල, සඳමඩල අත ගගා ඉන්නකොට සාරිපුත්ත මහරහතන් වහන්සේට ඍද්ධියෙන් ඉර මඩල අතපත ගානවා කියලා හිතන්නකො ස්පර්ශ කරනවා කියලා. මුගලන් මහරහතන් වහන්සේ, එතකොට මේ එකම ඉරට අත් තුන හතරක් එන්නෑ. එතකොට මේකට මොකක්ද කියන නම? මේකට තමයි කියන්නෙ ඍද්ධිය කියලා. මේක තමයි ඍද්ධි විෂය. ඊළඟට ආකාසේ උන්වහන්සේට සක්මන් කරන්න ඕන නම්, ආකාසේ පඨවි ධාතු සංඥාව ඇති කරගන්නවා. එතකොට ආකාශය පොළොවක් වගේ පේනවා. එතකොට ආකාශයෙන් සක්මන් කරනවා, අනිත් අයට පොළොව පේන් නෑ. මේ විදියට අනේකවිධි ඍද්ධි. ඉතින් අපිට කියන්න බැරි තරම් ඍද්ධී ඥාණය ශාස්තෘන් වහන්සේගේ හිතාගන්න බෑ. දුර තරන් ළං කරනවා. ළං තැන් දුර කරනවා. දැන් බලන්න ළඟ තැනක්, අංගුලිමාලට ළඟ භූමියනෙ දුර කලේ බුදුරජාණන් වහන්සේ. පුංචි කැළයක්නෙ අච්චර යොදුන් තුනක් විතර දුර කලේ. එ වගේ කරනවා. ඒ වගේම දුර තැන් ළං කරනවා. බුදුරජාණන් වහන්සේ දෙව්රම් වෙහෙරෙන් සිරිපා තබලා අනෙක් සිරිපා විශාඛාවගේ ගෙදර තියනවා. බුදුරජාණන් වහන්සේට ඒ වගේ ඍද්ධි ඥාණයක් තිබ්බා. අපරිමිත ඍද්ධි ඥාණයක්. මේ වාගේ ආනුභාව සම්පන්න මහත් ඍද්ධි තියෙන වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් ගැන කියන්න පින්වතුනි, අපගේ ශාස්තෘන් වහන්සේ හැර. විජ්ජාචරණ සම්පන්නයි. එතකොට තව තියෙනවා දිබ්බසෝත. දිබ්බසෝත කියන්නෙ ඕනම දුරක, දැන් ඔය උදුම්බරිය සිහනාද

සූත්‍රය එහෙම කතා කරනකොට බුදුරජාණන් වහන්සේට බැන බැන ඉන්නවා නිග්‍රෝධ කියන තාපසයා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඈත වනයේ ඉන්නෙ. බුදුරජාණන් වහන්සේට ශ්‍රවණය වෙනවා තත්පරේට. බුදුරජාණන් වහන්සේ එතෙන්ට වඩිනවා. උදුම්බරියසිහනාද සූත්‍රය. ඕනම දුරක, මෙතන ඉඳලා බ්‍රහ්ම ලෝකෙ. දැන් අපි කිව්වානෙ මහා විශාල ගලක් විශාල පර්වතයක් බ්‍රහ්ම ලෝකෙ ඉඳලා පෘථිවියට දැම්මොත් ඒ ගල වැටෙන්න මාස හතරක් යනවා, එච්චර දුරයි. එහෙව් දුර තියෙන තැනක බ්‍රහ්මයෙක් කතා කරන එක බුදුරජාණන් වහන්සේට මෙතන ඉඳලා ළඟ ඉඳන් කෙනෙක් කියන එකක් වගේ ඇහෙනවා. ඒකට කියෙන්නෙ දිබ්බසෝත ඥාණය කියලා. ඕනම දුරක, සතෙක් සිව්පාවෙක් පවා හිතන පතන දේ පේනවා. බ්‍රහ්මයෝ හිතන එක පවා බුදුරජාණන් වහන්සේට දැනෙනවානෙ. ඒ නිසා දිබ්බසෝත ඥානය. පරචිත්තවිජානන ඥාණය. ඕනම දුරක ඕනම තැනක ඕනම කෙනෙක් හිතන දේ දන්නවා බුදුරජාණන් වහන්සේ. දැන් මෙයාට රාග සිතක් තියෙන්නේ, මේක දැන් විරාගී සිතක් තියෙන්නෙ. දැන් තරහ සිතක් තියෙන්නෙ. දැන් වීතරාගී හිතක් තියෙන්නෙ. දැන් මෝහී හිතක් තියෙන්නෙ. මෝහයෙන් දුරු වුනු හිතක් තියෙන්නෙ. දැන් හැකිළුණු හිතක් තියෙන්නෙ. දැන් හොඳට ප්‍රසන්න සිතක් තියෙන්නෙ. කියලා හිතේ යම් යම් ස්වභාවයක් ඇත්ද ඒ සියල්ලම බුදුරජාණන් වහන්සේට තේරෙනවා. ඉතින් ඒවා බල බලානෙ භාග්‍යවතුන් වහන්සේ දහම් දෙසන්නෙ. ඊටපස්සෙ පුබ්බේනිවාසානුස්මති ඥාණය. පෙර ජීවිත දැකීම. දිබ්බචක්ඛු ඥාණය. දිබ්බචක්ඛු ඥාණය කියලා කියන්නෙ පින්වතුනි බලන්න පුලුවන්. මේකටම තමයි දිවැස කියන්නෙ. අපි චූතුපපාත ඥාණය කියලා කියන්නෙ. දිබ්බචක්ඛු ඥාණය. ඕනම දුරක තියෙන, ඕනම තැනක තියෙන දෙයක් පේනවා. ඒ වගේම චුතියේ උපත පේනවා. ආසවක්ඛයා ඥාණය, මෙන්න මේක තමයි අෂ්ට විද්‍යා. විපස්සනා ඥාණය. මනෝමය සෘද්ධි ඥාණය, සෘද්ධිවිධ ඥාණය, දිබ්බසෝත ඥාණය, පරචිත්ත විජානන ඥාණය, පුබ්බේනිවාසානුස්මති ඥාණය, දිබ්බචක්ඛු ඥාණය, ආසවක්ඛය ඥාණය. ඊටපස්සෙ මීට අමතරව බුදුරජාණන් වහන්සේගේ දස බල ඥාණ, සිව් විශාරද ඥාණ, ෂඩ්අසාධාරණ ඥාණ, සම්බුදු ඥාණය, සර්වඥතා ඥාණය, මේ අනාවරණ ඥාණය, යමක මහාප්‍රාතිහාර්ය ඥාණ, අනේකවිධ ඥාණ බුදුරජාණන් වහන්සේට තිබුනා. ඉතින් ඒ බුදුරජාණන් වහන්සේගේ ඒ ඥාණ වලට අනුවම තමයි බුදුරජාණන් වහන්සේගේ හැසිරීම. බුදුරජාණන් වහන්සේ තරම් සීලසම්පන්න කෙනෙක් නෑ තවත් ලෝකෙ. තුන් ලෝකෙම නෑ, බුදුරජාණන්

වහන්සේ තරම් සමාධි සම්පන්න කෙනෙක් තුන් ලෝකෙම නෑ. බුදුරජාණන් වහන්සේ තරම් මිහිරි කතා ඇති කෙනෙක් තුන් ලෝකෙම නෑ. බුදුරජාණන් වහන්සේ තරම් සිහි නුවණ තියෙන කෙනෙක් තුන් ලෝකෙම නෑ. එතකොට පින්වතුනි පසළොස්චරණ ධර්ම තියෙනවා, පළවෙනි එක තමයි සීල සංවරය. දෙවෙනි එක ඉන්ද්‍රිය සංවර සීලය. තුන්වෙනි එක භෝජනයේ ප්‍රමාණ දන්නා බව. හතර ජාගරියානුයෝගය. පහ ශ්‍රද්ධාව. හය හිරිය, පව් කිරීමට තියෙන ලැජ්ජාව. හත ඔත්තප්ප, පවේ විපාකයට තියෙන භය. අට බහුශ්‍රැත බව. නවය වීර්යය. දහය ස්මෘතිය, සිහිය. ඊළඟට එකොළහ ප්‍රඥාව. දොළහ ප්‍රථම ධ්‍යානය. ඊළඟට දෘතියධ්‍යානය. ඊළඟට තෘතියධ්‍යානය. ඊළඟට චතුර්ථධ්‍යානය. විදියට ධ්‍යාන හතර. එතකොට බුදුරජාණන් වහන්සේ තරම් සීලයෙන් අග්‍ර කෙනෙක් තවත් නෑ. ඒක උන්වහන්සේගේ චරණ ධර්මයක්. බුදුරජාණන් වහන්සේ තරම් ඉන්ද්‍රිය සංවරයෙන් අග්‍ර තවත් කෙනෙක් තුන්ලෝකෙ නෑ. ඒ බුදුරජාණන් වහන්සේගේ චරණ ධර්ම. බුදුරජාණන් වහන්සේ තරම් ආහාරයේ ප්‍රමාණ දන්න කෙනෙක් තුන්ලෝකෙම නෑ. බුදුරජාණන් වහන්සේ - ආහාරයේ ප්‍රමාණය කියලා කියන්නෙ පින්වතුනි ආහාරය ගන්නේ කුමක් සඳහාද මෙවදවායන මදායන මන්දනයාන විභූෂනාය ආදී වශයෙන් මේ ආහාරය කයේ මහත්වීම, ලස්සනට සැරසෙන්න නෙවෙයි. බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා මේ සසරින් නිදහස් වෙන කෙනාට ආහාරය තියෙන්නෙ කරත්තයක කඩ ඇණේට තෙල් දානවා වගේ. කරත්තෙ කැරකෙන්න පහසුවෙන්න විතරයි. තුවාලයකට බෙහෙත් දානවා වගේ. සුවවෙන්න විතරයි. ඊළඟට කාන්තාරෙන් එතෙර වෙන කෙනෙක් පුත්‍රමාංශය කනවා වගේ. එතෙර වීම පිණිස විතරයි. ආහාරය ගැන බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා. බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ ආහාරය ගැන විශේෂයක් නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ තරම් මේ ධර්මයන් ගැන විශ්වාසය තියෙන තුන් ලෝකෙම කෙනෙක් නෑ. බුදුරජාණන් වහන්සේ තරම් පවට ලැජ්ජා වූ, ඊළඟට පවේ විපාකයට බය වූ ඒ තුළින්ම සසරට කළකිරිලා වජිරාසනය ළඟ සම්මා සම්බුදු වුනේ, බුදුරජාණන් වහන්සේ. වෙන කෙනෙක් නෙවෙයි. මේ ගුණධර්ම මේ පුරුදු කරගත යුතු ධර්ම අග්‍ර සේ උන්වහන්සේ තුළ තිබුනා. උන්වහන්සේ තමයි මේ සියලු ධර්මයන් ලෝකයට පහළ කලේ. උන්වහන්සේ තමයි වීර්යයෙන් අධික. උන්වහන්සේ තරම් වීර්යයවන්තයෙක් නෑ. අන් අයට කොච්චර වීර්යය දුන්නද බුදුරජාණන් වහන්සේ දහම් දේශනා කර කර. භාග්‍යවතුන් වහන්සේගේ ප්‍රඥාව සමාන කරන්න බෑ. බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥාව කොහොම සමාන කරන්නද.

ගුරුලෙක් ආකාශේ පියාඹනකොට ඒ ගුරුලාගේ පියාපතට වැහෙන අවකාශයයි, වැහෙන්නැති අවකාශයයි කොහොමද, ඒ වගේ තමයි සාරිපුත්ත මහරහතන් වහන්සේ පවා බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥාව විස්තර කලොත්, ඒක ගුරුලෙකුගේ පියාපතට වැහෙන ප්‍රමාණයක් වගෙයි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ තරම් මේ ධ්‍යාන ගැන දන්න තවත් කෙනෙක් නෑ, ඉතින් මේවා තමයි විජ්ජාචරණ සම්පන්න කියලා කියන්නෙ. එතකොට ඒක කෙටියෙන් ගත්තොත් එහෙම අපි භාවනා වශයෙන් සිහි කරන්නෙ ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නැත්නම් මාගේ ස්වාමී වූ ගෞතම නම් වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේ අනන්ත වූ අවබෝධයෙන් යුතුවම ඒ අනන්ත වූ අවබෝධයට අනුවම හැසිරෙන බැවින්, විජ්ජාචරණ සම්පන්න වන සේක. බුදුරජාණන් වහන්සේ වදාළා, බුදුරජාණන් වහන්සේ කෙනෙකුට පුලුවන් කිව්වා විමසන්න, ඕන තරම් බුදුරජාණන් වහන්සේ පිටිපස්සෙ ලුහුබැඳලා විමසන්න කිව්වා, කෙලේශයක්, කයේ අසංවරයක්, වචනයේ අසංවරයක්, ක්‍රියාවේ අසංවරයක් දකින්න පුලුවන්ද කියලා. තුන් ලෝකයේ කාටවත් දකින්න බෑ. මොකද ඒ වගේ දෙයක් නැති නිසා. සමහර අයගේ තියෙනවා හොඳට ඉන්නවා. කාලෙන් කාලෙට කෙලෙස් ඇවිස්සෙනවා. ඉතින් විමසලා බලන්න කිව්වා බුදුරජාණන් වහන්සේ කාලෙන් කාලෙට කෙලෙස් ඇවිස්සෙන ඒවා තියෙනවද  කියලා. කාලෙන් කාලෙට වත් කෙලෙස් ඇවිස්සෙන් නෑ. ඇයි ඒ? එහෙම කෙලෙස් නැති නිසා. සමහර අයට ලාභ සත්කාර ලැබෙනකොට එයාට ගරු බුහුමන් තියෙනකොට හොඳට ඉන්නවා. නැතිවෙච්චි ගමන් තමයි ඇවිස්සෙන්නෙ. බලන්න කිව්වා බුදුරජාණන් වහන්සේ රජමාළිගාවටත්, ඊළඟට දුගී පැල්පතටත් වඩිනවා. මහාජනකාය මැද්දෙන් මහා වනයේ හුදෙකලාවේ තනියෙන් ඉන්නවා. වෙනසක් තියෙයිද භාග්‍යවතුන් වහන්සේගේ කියලා. එහෙම වෙනස් වෙන්න කෙලේශ බුදුරජාණන් වහන්සේගේ නෑ. බුදුරජාණන් වහන්සේගේ ගමන අවබෝධයෙන් යුක්තයි. හැසිරීම අවබෝධයෙන් යුක්තයි. කතා කිරීම අවබෝධයෙන් යුක්තයි. සිතීම අවබෝධයෙන් යුක්තයි. මේ තුන් ලෝකෙම මනා සිහි නුවණින් හැසිරෙන උත්තමයා කියලා ඒකාන්තයෙන් කියනවා නම් ඒ තමයි තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. මේ ලෝකයේ විජ්ජාචරණ සම්පන්නයි කියලා වචනයේ පරිසමාප්ත අර්ථයෙන්ම කියනවා නම් ඒ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ පුබ්බේනිවාසානුස්මති ඥාණය, චුතූපපාත ඥාණය, අසවක්ඛය ඥාණය කියන

ත්‍රිවිද්‍යාවෙන් යුතු වන සේක. ඒ අනන්ත ඥාණයන්ට අනුවම ජීවිතය ගත කළ සේක. පන්සාලිස් වසක් ගත කරපු සම්බුදු ජීවිතය සිහිවිල්ලක් පවා, තියන පියවරක් පවා අවබෝධයෙන්ම යුතුවූ සේක. මේ වනාහි විජ්ජාචරණ සම්පන්න ගුණයයි. එතකොට විජ්ජාචරණ සම්පන්න ගුණයේදී පින්වතුනි නිතර නිතර ඒ බුදුරජාණන් වහන්සේගේ ඥාණ ටික සිහි කරන්න ඕන. දසබල ඥාණ. මම වැඩිපුර දැන් දසබල ඥාණ ගැන එහෙම විස්තර කලේ නැත්තෙ දැන් මේ බුදුගුණ විස්තර කරලා දසබල ඥාණ ගැන විස්තර කරලා දෙන්නම් සැකෙවින්. එතකොට දසබල ඥාණ, ඒ දසබල ඥාණ ගැන මට මතකයි අපි රුවන්වැලි සෑ වන්දනාවකදී දසබල ඥාණ ධර්ම දේශනාවක් කලා, ඉතින් ඒක හොයාගෙන අහන්න. අපි තව ඉදිරියට කියලා දෙන්නම්. එතකොට ඒකෙ දසබල ඥාණ හොඳට විස්තර කරනවා. ඊළඟට නෙත්තිප්‍රකරණය. ලොකු ස්වාමීන් වහන්සේ පරිවර්තනය කරලා තියෙනවා, නෙත්තිප්‍රකරණය, ඒ අසිරිමත් පොත් වහන්සේ, කියලා මේ ගෞතම බුද්ධ ශාසනයේ අසිරිමත් පොත් වහන්සේ නමින්. එතකොට ඒ පොත් වහන්සේගෙත් දස බල ඥාණ ගැන විස්තර වෙනවා. මහා සිංහනාද සූත්‍රයේ දසබල ඥාණ විස්තර වෙනවා. දසබල ඥාණ කියලා වෙනම සූත්‍ර දේශනා තියෙනවා. එතකොට ඒවා කියවලා හොඳට ඒ දසබල ඥාණ ගැන පැහැදීම ඇති කරගන්න ඕන. විශාරද ඥාණ හතර විස්තර කරගන්නවා. ත්‍රිවිද්‍යාව විස්තර කරගන්නවා. අෂ්ටවිද්‍යා විස්තර කරගන්නවා. මේ ඔක්කෝම විස්තර විභාග වශයෙන් සිහි කරනවා මනසින්. අනේ බුදුරජාණන් වහන්සේට මේවා තිබුනානේ, මම සරණ ගිය. මම සරණ ගිය ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මේ මේ ඥාණයන්ගෙන් යුක්තයි. ඊට අනුව හැසිරීමෙන් යුක්තයි. එතකොට ගොඩාක් විස්තර හොයාගන්න බැරි කෙනාට, කෙටියෙන් නිතර සිහි කරනවා මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ අනන්ත අවබෝධයෙන් යුතුව ඒ අවබෝධයට අනුවම ජීවත් වූ සේක. ඒ අවබෝධයට අනුවම වැඩ සිටි සේක. විජ්ජාචරණ සම්පන්නයි. ඉතින් අෂ්ට විද්‍යා පසළොස්චරණ ධර්මයන් බොහෝ දෙනා බුදුගුණ විදියට සිහි කරනවා. ඒක ඉතින් බොහෝ දෙනාට හිත සුව පිණිස පවතිනවා. එතකොට ඒ කාරණාව තේරුම් ගන්න, විජ්ජාචරණ සම්පන්න ගුණය. එතකොට විජ්ජාචරණ සම්පන්න ගුණයට කුමක්ද අපි මනසිකාර කරන්නෙ, බුදුරජාණන් වහන්සේගේ අනන්ත බුද්ධ ඥාණ. ඊටපස්සෙ ඊට අනුව තියෙන බුදුරජාණන් වහන්සේගේ හැසිරීම. එතකොට බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ අපි ගත්තොත් එහෙම බ්‍රහ්මායී සූත්‍රයේ, බුදුරජාණන් වහන්සේ දවස ගත කරන හැටි, එළියට වඩින

හැටි, බුදුරජාණන් වහන්සේගේ දවස උදෑසන උන්වහන්සේ මහාකරුණා සමාපත්තියෙන් සමවැදිලා උන්වහන්සේ ලෝකෙ දෙස බලනවා පිහිට විය යුතු අය ගැන. ඊටපස්සෙ උන්වහන්සේ දැහැටි දඬු අරලු වළඳලා උන්වහන්සෙ පාත්‍රා ධාතුව රැගෙන පිණ්ඩපාතයේ වඩිනවා. පිණ්ඩපාතය රැගෙන භාග්‍යවතුන් වහන්සේ දන් වළඳලා විවේක සුවයෙන් වැඩ ඉඳලා සක්මනෙන් භාවනාවෙන් වැඩ ඉඳලා දම්සභා මණ්ඩපයට වැඩමවනවා. භික්ෂූන්ගේ අනෙක්ප්‍රකාර වූ දහම් ගැටළු විසඳමින් වාසය කරනවා. ඊළඟට හවස් වෙනකොට උපාසක උපාසිකාවන්ට දහම් දේශනා කරනවා. රාත්‍රී කාලය වෙනකොට පෙරයම මුල් කාලයේ සියලු දෙනාගේ දහම් කතා අවසන් කරලා දෙවියන්ට අවස්ථාව හරිගස්සලා දෙනවා. මැදියම මුල් කාලයේ බුදුරජාණන් වහන්සේ සක්මන් කරනවා. එකපාරම සැතපෙන්නෑ. ඊටපස්සෙ මැදභාගයේදී සැතපෙනවා. සාමාන්‍යයෙන් පැයක් හමාරක් භාග්‍යවතුන් වහන්සේ සැතපෙන්නේ. පැයක් විතර. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ආයෙ නැගිටලා මහා කරුණා සමාපත්තියෙන් ලෝකය දෙස බලනවා. ඉතින් මේ විදියට තමයි බුදුරජාණන් වහන්සේගේ සාමාන්‍යයෙන්, ඕකට කියන්නෙ පෙරබත්කිස, පසුබත්කිස ආදී වශයෙන්. ඊටපස්සෙ මේ විදියට බුදුරජාණන් වහන්සේගේ මුළු ජීවිතේම ලෝකයාට අනුකම්පා පිණිස, දෙව්මිනිස්සුන්ට අනුකම්පා පිණිස යහපත පිණිසමයි ගත වුනේ. ඒ සෑම මොහොතකම බුදුරජාණන් වහන්සේ අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් පාරමී ධර්මයන් පුර පුරා ඒ පිනකින් යම්කිසි සම්බුද්ධත්වයක් ලැබුවාද, ඒ සම්බුද්ධත්වය සියලූ ඥාණ තුළින් තමයි උන්වහන්සේ සියලු ලෝකයට සෙත සැලසුවේ. භාග්‍යවතුන් වහන්සේ වජිරාසනය මත යම්කිසි ඥාණයක් ඉපදුනාද, ඒ කිසිම ඥාණයක් ප්‍රයෝජනයක් නැතිව අතහැරිලා ගියේ නෑ. දැන් ගත්තොත් එහෙම පින්වතුනි ඔබගේ ජීවිතය ගත්තොත්, ඔබ අපි ගත්තොත් අපි ස්කෝලෙ ඉගෙන ගත්තු සමහර විෂයමාලා තියෙනවානෙ අතහැරිලාම ගිය. අතහැරිලාම ගියා. දැන් අපි කියමුකො, දැන් ඔබ අපි කියමු චිත්‍ර ඉගෙන ගත්තු කෙනෙක් ඉන්නවා. පස්සෙ එයා වෛද්‍යවරයෙක් වුනා. ඊටපස්සෙ ආයෙ එයාගෙ චිත්‍ර කතා නෑ එයාගෙ. එයාගේ ජීවිතේම එයා වෛද්‍ය වෘත්තියට අනුව තමයි හිතන්නෙ. ඉංජිනේරු මහත්මයා ඊට අනුව හිතන්නෙ. ගුරුවරයා ඊට අනුව හිතන්නෙ. ඉතින් සමහර අපි ස්කෝලවල ඉගෙන ගත්තු සබ්ජෙක්ට් තියෙනවා ඒවා ඔක්කෝම අමතක වෙලාම ගියා. බුදුරජාණන් වහන්සේ වජිරාසනය මත උපද්දවාගත්තා වූ යම්තාක් ඥාණ තියෙනවාද, ඒ සියල්ලම ප්‍රයෝජනයක් නැතිව, ඒ එකක් වත්, ඒ

ඥාණ වලින් එකක්වත් ප්‍රයෝජනයක් නැතිව වියැකුනේ නෑ. බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවෙ නෑ. සෑම බුද්ධ ඥාණයකින්ම ප්‍රයෝජන ගත්තා. අනන්ත අපරිමාණ සම්බුදු ඥාණ වලින් ප්‍රයෝජන ගත්තා. මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ අනන්ත සම්බුදු ගුණයෙන් යුක්ත වෙලා අනන්ත බුද්ධ ඥාණයන්ගෙන් යුක්ත වෙලා ඊට අනුවම හැසිරුන වැඩ සිටිය බැවින් විජ්ජාචරණ සම්පන්න වන සේක. එතකොට ඒ විජ්ජාචරණ සම්පන්න ගුණය මනසිකාර කරනකොට බුදුරජාණන් වහන්සේගේ අනන්ත ඥාණයන් සිහි කරන්න. එතකොට ඒවා සිහිකරනකොට සිහිකරනකොට හිතාගන්න බෑ පින්වතුනි අපේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ගැන. අපිට පුදුම ලාභයක් ලැබුනේ මේ වාගේ උතුම් ශාස්තෘන් වහන්සේ නමක් සරණ යන්න. අත්දෙක අහසට ඔසවාගෙන යදින ආගමක් අපිට ලැබුනා නම්, ඒ වාගේම සතා සීපාවාගේ බෙලි කප කපා ලේ පුද පුදා යන ආගමක් අපිට ලැබුනා නම්, ඊළඟට ආගම වෙනුවෙන් ගිහිල්ලා මරාගෙන මැරියං කියලා කියන ආගමක් අපිට ලැබුනා නම් ඉවරයි. ඊළඟට උඹලා ඕනම පාපයක් කරපල්ලා අපි ඒක භාරගන්නවා උඹලට ශුද්ධ වෙන්න පුලුවන් කියන ආගමක් ලැබුනා නම්, ඉවරයි. මේක මේ විදියටම කරපල්ලා කියලා ඒ ශාස්තෘන් වහන්සේට යටත් වුනු ආගමක් ලැබුනා නම් ඉවරයි. අපේ බුද්ධ ශාසනයේ මෙන්න කුසල් මෙන්න අකුසල් පෙන්නලා දුන්නා. පින් පව්, මෙන්න දිව්‍ය ලෝක, මෙන්න සතර අපාය, මෙන්න නිවන, මෙන්න සුගතිය, මෙන්න මාර්ගය, මෙන්න ප්‍රතිඵලය. ඒකට කැමැති කෙනාට යන්න පුලුවන්. එතකොට බලන්න අපිට මේ වාගේ උතුම් ශාස්තෘන් වහන්සේ නමක්. තුන්ලෝකෙම විජ්ජාචරණ සම්පන්න ශාස්තෘන්වහන්සේ කියලා කියන්නෙ කාටද. ඒ භාග්‍යවත් අර්හත් ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේටනෙ. හිත පහදවාගන්න. පුදුම ලාභයක් අපි මේ බෞද්ධ පවුලක ඉපදිච්ච එක. සිංහල වෙලා ඉපදිච්ච එක. ඊළඟට වෙන ආගම ඉඳලා වුනත් කමක් නෑ දැන් හරි එක බණපදයක් අහන එක ඔබගේ ජීවිතයේ ආශ්චර්යයක්. අද්භූත දෙයක්. පුදුම පුණ්‍ය විපාකයක්. කන්න නැතත්, බොන්න නැතත්, ඉන්න හිටින්න නැතත්, මේ ලෝකයේ තියෙන සියලු රෝග මේ ශරීරයට හැදුනත් පින්වතුනි අනේ මේ හදමඩලට දවසක් හරි බුදුරජාණන් වහන්සේගේ සුවඳ හරි වැදුනානෙ. ඒක කොච්චර වාසනාවක්ද. ඒ නිසා මුළු හදවතින්ම බුදුරජාණන් වහන්සේ සරණ යන්න. මුළු හදවතින්ම ශ්‍රී සද්ධර්මය සරණ යන්න. මුළු හදවතින්ම ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. විජ්ජාචරණ සම්පන්න වූ අනන්ත සම්බුදු ඥාණයෙන් වැඩ සිටි, ඒ ඥාණයට

අනුවම ජීවිතය ගත කළ විජ්ජාචරණ සම්පන්න වූ ලොව්තුරා සම්බුදුරජාණන් වහන්සේගේ පිහිට පිළිසරණ ඔබට ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව ශ්‍රද්ධා රූපවාහිනියෙනුත්, ඒ වාගේම ලක්විරු ගුවන්විදුලියෙනුත් විකාශනය කරවන්න දායකත්වය දරන්නේ පින්වත් ඊ.ඒ. ගාත් මහත්මයා, ඒ වගේම සිල්වියා ගාත් මැණියන්, ඒ වගේම ඩොමිනික් ප්‍රනාන්දු පුතණුවන් ඇතුළු පුණ්‍යනිධාන කළණ මිතුරු එකුමුතුව විසින්. ඉතින් පින්වතුනි, අද දවසේ අපි බුදුරජාණන් වහන්සේගේ විජ්ජාචරණ සම්පන්න ගුණය විස්තර කරගත්තා. ඉතින් ඒ රැස් කරගත්ත පින මුල් කරගෙන අපි ලෝකයට සෙත් ප්‍රාර්ථනා කරමු. අපි බුදුරජාණන් වහන්සේගේ අරහං ගුණය ගැන ඉගෙන ගත්තා. බුදුරජාණන්වහන්සේ සියලු කෙලෙස් නැසූ හෙයින් රහසින් වත් පව් නොකළ හෙයින්, සියලු පුද පූජාවන්ට සුදුසු වන හෙයින් බුදුරජාණන් වහන්සේ අරහං වන සේක. ඒ අරහං ගුණයේ අනුහසින්. ඒ වගේම බුදුරජාණන් වහන්සේ සියලු ධර්මයන් ගුරු උපදේශ රහිතව අවබෝධ කලා, චතුරාර්ය සත්‍යය ධර්මය, අමා මහ නිවන ගුරු උපදේශ රහිතව අවබෝධ කලා. සම්මා සම්බුද්ධයි. ඒ සත්‍යානුභාවයෙන්, ඒ වගේම බුදුරජාණන් වහන්සේ අනන්ත ඥාණයන්ගෙන්, අනන්ත විද්‍යාවන්ගෙන් යුතු වෙලා ඊට අනුවම ජීවත් වුනා. ඊට අනුවම හැසිරීම තිබුනා. ඒ අෂ්ටවිද්‍යා පසළොස්චරණ ගුණධර්මයන්ගෙන් පරතෙරට පත්වුනා. ඒ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ විජ්ජාචරණ සම්පන්න ගුණ බලයෙන්, මේ රටටත් ලෝකයටත් සෙත් වේවා. මනුස්ස වර්ගයාට කරදර පීඩා දුරු වේවා. මේ රෝග ව්‍යසනය වහා දුරු වේවා. මිනිස්සුන්ට බයක් සැකක් නැතිව සැනසිල්ලේ ජීවත් වෙන්න ලැබේවා. සියලුම මිනිස් වර්ගයාට උතුම් සම්බුදු ගුණ බලයෙන් සියලු සෙත් වේවා කියලා අපි ආශිර්වාද කරමු. ඒ වගේම සියලු දෙවියන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වෙත්වා. පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වන දෙවියෝ මේ පින්වතුන් දැහැමින් රැකගනිත්වා කියලා අපි පින් පමුණුවනවා. ඒ වගේම විශේෂයෙන් 2020 අප්‍රේල් 20 වන දින මියපරලොව ගිය ඩෙන්සිල් ප්‍රේමරත්න මහත්මයා ඇතුළු සියලූම මියපරලොව ගිය ඥාතිමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් වේවා, අනුමෝදන් වේවා, පරලොව සැපයට පත්වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම මේ උතුම් අනන්ත සම්බුදු ගුණ, සම්බුදු ඥාණ අපිට වචනයක් ගානෙ විග්‍රහ කරලා, විස්තර කරලා, අපිට කියලා දීලා මේ ශාසනය කෙරෙහි හිත පැහැදවූ අපගේ

පරම පූජනීය, ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. ඒ වගේම සියලූම ස්වාමීන් වහන්සේලාටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් සියලු දෙනාට උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ වේවා. ඒ වගේම පින්වත් ඊ.ඒ. ගාත් මහත්මයාටත්, ඒ වගේම සිල්වියා ගාත් මෑණියන්ටත් ඒ වගේම ඩොමිනික් ප්‍රනාන්දු පුතාටත් මේ පින් අනුමෝදන් වේවා. ඒ වගේම උතුම් කළණමිතුරු ඇසුර ලැබීම පිණිස මේ පින්වතුන්ට මේ කළණ මිතුරු එකතුවෙන් කරපු මේ පින ඒකාන්තයෙන් හේතුවාසනා වෙලා, සත්පුරුෂ ඇසුරම වේවා, සත්පුරුෂයන් ළඟ ඉන්න ලැබේවා. සත්පුරුෂයන්ගේ ධර්මය අවබෝධ කරන්න ලැබේවා. දුකින් නිදහස් වෙත්වා කියලා පින් පමුණුවනවා. ඒ වගේම ධර්මය ඇසූ ඔබ සියලු දෙනාටත් ඒ වගේම මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ කාර්යමණ්ඩලයේ දරුවන්ට ඒ වගේම ඒ මාධ්‍යය පවත්වාගෙන යාම සඳහා උපකාර කරන සියලුදෙනාට පින් සිදු වේවා. අපගේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ අනන්ත සම්බුදු ඥාණයෙන් යුක්තයි, අනන්ත විද්‍යාවෙන් යුක්තයි. ඊට අනුව හැසිරීමෙන් යුක්තයි. විජ්ජාචරණ සම්පන්න බවින් සමන්විතයි. විජ්ජාචරණ සම්පන්න වූ භාග්‍යවතුන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණ ඔබ සියලු දෙනාට සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=0fPDnLFfS1Q&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=24

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය කල්‍යාණ මිත්‍ර ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සමඟ ඔබ මේ එකතුවෙලා ධර්මය ශ්‍රවණය කරන්නෙ. ලෝකෙට කලාතුරකින් පහළ වෙන තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ගැන අහන්න ලැබෙන එකත් භාග්‍යයක්. ලොව්තුරා සම්මා සම්බුදු වරුන්ගේ ගුණ කඳ, පින්වතුනි ඒ ගුණ බුදුරජාණන් වහන්සේගේ ජීවිතය තුළින්ම ප්‍රකට වෙන දේවල්. බුදුරජාණන් වහන්සේගේ ඒ අසිරිමත් ගුණ කඳ අහන්න ලැබෙන එකත් භාග්‍යයක්. මොකද මේ බුද්ධ ශාසනේ සරණේ පිහිටන්න ඕන. අපිට ගොඩාක් මාර්ගය වඩන්න ගිය, නිවන් දකින්න ඕන කියලා එක පාරම බණ භාවනා කරගෙන මහන්සි වුන අය අපිට මුණගැහිලා තියෙනවා. එතකොට අපිට එයාලත් එක්ක කතාකරනකොට සහ එයාලා වැටුනු අමාරුකම් කියනකොට අපිට පැහැදිලිවම තේරෙනවා මුලින් හොඳට දහම් දැනුමක් හදාගෙන සරණේ බලවත්ව පිහිටුනා නම් මෙයාලා ගත්තු වෙහෙසේ ප්‍රයෝජන ගන්න තිබුනා කියලා. එතකොට එයාලට ලොකු වෙහෙසක්, අතරමැදදී එයාලට අත්හරින්න සිද්ධ වුනේ මුලින් සරණ බලවත් කරගත්තෙ නැති නිසා. ඊළඟට හොඳ දහම් දැනුමක් ලබාගත්තෙ නැති නිසා. විශේෂයෙන් සරණ. මොකද දැන් අපිටත් ගොඩාක් ආරණ්‍ය වල සහ ඒ වගේ ගොඩාක් වැඩිහිටි සංඝයා අපිත් කාලෙන් කාලෙට ඇසුරු කරලා තියෙනවා. එතකොට ගොඩාක් අයට සමහර විට අවුරුදු දහය පහළොව හොඳට දතකට කාගෙන නිවන් දකින්න ඕන කියලා මහන්සි වෙනවා. අවසානෙට අත්හරිනවා, සමහර වෙලාවට සිවුරත් අත්හැරලා යනවා. එතකොට පස්සේ ආපහු තොරතුරු හොයලා බලලා කතා කරනකොට ඒකටත් සමස්ථයක් වශයෙන් තේරෙන්නෙ සරණ නොමැතිවීම සහ හොඳ දහම් දැනුමක් සහ ඒ වගේම හොඳ ගුරු ඇසුරක් නොතිබීම නිසා තමයි උත්සාහය අත්හැරෙන්නෙ. ඒ නිසා ඔබට මේ ධර්මය ශ්‍රවණය කරන විදේශ රටක හෝ වේවා, මේ රටේ හෝ වේවා කෙනෙකුට ක්‍රමානුකූලව මේ නිවන් මාර්ගයේ ගමන් කරන්න ඕන පසුබිම මේ ධර්ම දේශනා වලින් අනුග්‍රහ කරනවා ඒ පසුබිම පිණිස. ඉතින් අපි බලමු අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ

කඩුවෙල මහමෙව්නා භාවනා අසපුව සහ මාලබේ අමාවතුර මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ සැදැහැවත් පිරිසක්. විශේෂයෙන් අපවත් වී වදාළ පින්වත් හුංගමුව විමලානන්ද ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන් කරන්නටත් බලාපොරොත්තු වෙනවා අද ධර්ම දේශනාවෙන් පසුව. එතකොට පින්වතුනි මේ පින්වතුන්ට බොහෝ භාග්‍යයක් අද මේ ධර්ම දානය ලබලා දෙන්න කරන ඒ දායකත්වය ධර්ම දානයේ පින ඔබට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. ඉතින් ලොව්තුරා තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් සම්බුදු ගුණ අපි ඉගෙනගනිද්දි අපි පහුගිය කාලෙ ඉගෙන ගත්තේ බුදුරජාණන් වහන්සේගේ නව අරහාදී බුදුගුණ වලින් අරහං සම්මා සම්බුදු ගුණය ඉගෙන ගත්තා. සම්මා සම්බුද්ධ ගුණය ඉගෙන ගත්තා. විජ්ජාචරණ සම්පන්න ගුණය ඉගෙන ගත්තා. අද අපි ඉගෙන ගන්නවා සුගත ගුණය. සුගත කියලා කියන වචනයත් එක්ක ඔබට පැහැදිලිව තේරෙනවා බුදුරජාණන් වහන්සේට සුගතයි කියලා කියන්නෙ, බුදුරජාණන් වහන්සේ සුන්දර නිවන් මාර්ගයේ ගමන් කරලා, සුන්දර අමා මහ නිවනට පත් වූ හෙයින් සුගත වන සේක. සුගත. මේ ලෝකයේ ගොඩාක් අය, ගොඩාක් අය කියන්නෙ බුදුරජාණන් වහන්සේ හැර සියලූම දෙනා ඒ කාලෙ වෙනකොට, බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයො හැර විශේෂයෙන් භාග්‍යවතුන් වහන්සේනෙ මේ ධර්මය, දහම් මාවත විවෘත කලේ. එතකොට භාග්‍යවතුන් වහන්සේ හැර, භාග්‍යවතුන් වහන්සේට කලින් නිවන් මාර්ගය සොයාගන ගිය සියලුදෙනාම ගියේ නොමග. සුගත නෙවෙයි, නොමග ගිය අය. ඒ අය මොනවහරි අජවෘත - එළුවෙක් විදියට ඉඳලා හෝ නිවන් දකින්න පාරක ගියා. ඒ පාර වැරදියි. සුගත නෑ. සුනඛ වෘත - බල්ලෙක් විදියට ඉඳලා නිවන් දකින්න හැදුවා. එතකොට එයාලට හිතුන් නෑ දැන් සාමාන්‍යයෙන් මනුස්සයෙක් බල්ලෙක් අනුකරණය කිරීම සර්ව සම්පූර්ණ නෑ. නමුත් බල්ලෙක්ගේ ජීවිතය බල්ලා කොහොමටත් ඒ විදියට ඉන්නවානෙ. එතකොට සුනඛයා නිවන් දැක්කෙ නැත්තේ ඇයි කියලා හිතන්න නුවණ ආවෙ නෑ ඒ දෘෂ්ටියෙන් හිත වැහුනාම. එතකොට ඒ අයත් සුගත නෑ, නොමග ගියා. ඊටපස්සෙ අජවෘත, ඊටපස්සෙ ගෝවෘත - ගවයො විදියට ජීවත් වුනා. ඊළඟට මහා තපස් රැක්කා. ඊළඟට අපි ගත්තොත් එහෙම අත්ථකිලමතානු යෝගය, අත්ථකිලමතානුයෝගය කියන්නෙ නිර්වාණයක් පිණිස කරන්නෙ. ඒ අය හිතන්නෙ දුක් ගෙවලා අතීත පාපර්ම ගෙවුනාට පස්සෙ නිකන්ම සියලු කර්ම ගෙවිලා නිවන් දකිනවා කියලා. එන්න ස්වාමීනී කිව්වාම ඒ ගෙදර දානෙට යන්නෑ, වඩින්න ස්වාමීනි කිව්වාම වඩින් නෑ, ඊළඟට ගෙදර

මැස්සො ඉද්දින් දානෙ දුන්නොත් දානෙ ගන්නෑ, සුනඛයෙක් ගෙදර හිටියොත් එතනදින් දෙන දානෙ ගන්නෑ. ඊළඟට ගැබිනි මාතාවක් හිටියොත් දෙන දානෙ ගන්නෑ. අළුතින් විවාහ වුනු ජෝඩුවක් හිටියොත් දෙන දානෙ ගන්නෑ. වැට ළඟදින් දෙන දානෙ ගන්නෑ, ඊළඟට අතට තමයි දානෙ ගන්නෙ. එක පිඩකින් යැපෙනවා, පිඩවල් දෙකකින් යැපෙනවා. අතින්ම තමයි අරන් ලෙවකන්නෙ. ඊළඟට සීතලේ ගැහි ගැහී වතුරේ කිමිදෙනවා. මේ ආදී වූ අත්ථකිලමතානුයෝගය. එතකොට මේ අත්ථකිලමතානු යෝගය තමයි ඒ කාලෙ නිවන් දකින්න පුලුවන් එකම ක්‍රමය කියලා අනුගමනය කලේ. ඒ ඔක්කෝම සුගත නෙවෙයි, නොමග ගිය දේවල්. නිවනට හරි පාර නෙවෙයි. ඉතින් ඒ අතර තමයි තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වුනේ, ගයාවේ වජිරාසන මත උන්වහන්සේ ගිරිමේඛලා ඇතු පිටින් ආව මාරයා පරාජයට පත් කරලා, බුදුරජාණන් වහන්සේ ලොව්තුරා සම්බුදු බවට පත්වුනේ. උන්වහන්සේ සම්මා සම්බුද්ධත්වයේ නිකෙලෙස් බව උපදවාගත්තෙ එක මාවතකින්. ඒ මාවත පුරුදු කරන්න උන්වහන්සේ ගොඩාක් ඈත සංසාරේ ඉඳලා ආවා. උන්වහන්සේ ආපු සංසාරයේ කල්ප අසංඛෙය්‍ය විස්සකට කලින් උන්වහන්සේගේ හදවතේ ඇතිවෙච්චි ප්‍රාර්ථනාවක්. කල්ප අසංඛෙය්‍ය දාසයක් හිතේ රඳවගෙන හිටියා, වචනයෙන් කිය කියා හිටියා. බුදු කෙනෙක්ගෙන් විවරණ ලැබුන් නෑ. එතකොට එච්චර කාලයක් හිතේ රඳවාගෙන එනවා කියන එක අද්භූත දෙයක්නේ. දීපංකර පාද මූලයේ ඉදලා උන්වහන්සේ ඒ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේලාගෙන් විවරණ ගන්න පටන් ගත්තා. එතකොට ඒ ආපු ගමන් මාර්ගයේ සෑම බුදු කෙනෙක් ළඟම කියවෙනවා, මෙයා අනාගතයේ බුදු වෙනවා කියලා. සෑම බුදු කෙනෙක්ගෙන්ම විවරණ ගන්නවා කියලා යමක් ඇත්ද උන්වහන්සේ ආපු ගමන් මාර්ගය සුගතයි. සොඳුරු මාවතක්. ඒ මාවතේ ඒ අසංඛෙය්‍ය හතරේම ජීවිතේ එක විමුක්තිය වෙනුවෙන් අන්දේවල් අත්හැරීම - ඒකට කියනවා දානය, විමුක්තිය වෙනුවෙන් කය සිත සංවර කරගැනීම - ඒකට කියනවා සීලය, විමුක්තිය වෙනුවෙන් ගිහි ජීවිතේ කාම සිතිවිලි අත්හැරීම - ඒකට කියනවා නෙක්ඛම්මය, විමුක්තිය වෙනුවෙන් ප්‍රඥාව පිරීම, විමුක්තිය වෙනුවෙන් වීර්යය කිරීම, විමුක්තිය වෙනුවෙන් අධිෂ්ටානයෙන් ඉන්න එක, විමුක්තිය වෙනුවෙන් ඉවසීම, විමුක්තිය වෙනුවෙන් සත්‍යයෙන් වාසය කිරීම - ඇත්ත කතා කිරීම, විමුක්තිය වෙනුවෙන් මෛත්‍රියෙන් සිටීම, විමුක්තිය වෙනුවෙන් උපෙක්ෂාව පුරුදු කිරීම, අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් ඔක තමයි විමුක්තිය වෙනුවෙන්ම, සියලුම කුසල්

දහම් විමුක්තිය වෙනුවෙන් වැඩුවා කියලා යමක් ඇත්ද, අපේ මහා බෝධිසත්ත්වයන් ආපු ගමන ගොඩාක් සුන්දරයිනෙ. සියල්ල විමුක්තිය උදෙසානෙ කරලා තියෙන්නෙ. ඊටපස්සෙ බලන්න උන්වහන්සේට හොඳ නුවණක් තිබ්බා, අත්හැරීම. දවසක් ඒ කාලයේ බ්‍රාහ්මණ කුලයක ඉපදිලා බෝධිසත්ත්ව කාලෙ උන්වහන්සේට තාත්තා කිව්වා පුතා ගිනි පුදපං. ඊටපස්සෙ පුතා ඉපදෙනකොටත් ගිනි ගොඩ ඉස්සරහ තියෙනවා. ඉතින් ඒ ගිනි නිවෙනකොට ආයෙ ගින්දර දාන්න ඕන. ගිනි දෙවියානෙ. ඒ නිසා දිගටම දල්වලා තියෙන්න ඕන. විමුක්තියක් උදෙසා කරන්නෙ. ඊටපස්සෙ දවසක් යාගයක් කරන්න තිබ්බා. ඒ යාගය දවසෙ ඒ ගිනි දෙවියන්ට ගවයෙක් බිලි දෙන්න ඕන. ඉතින් මේක පැවරුණේ බෝධිසත්ත්වයන්ට. ඉතින් බෝධිසත්ත්වයෝ මොකද කලේ ඔන්න දැන් ගවයා ගෙනල්ලා ගින්දර ළඟ ගැටගැහුවා, ගවයාගේ බෙල්ල කපන්න පිහිය ගේන්න බැරිවුනා, කඩුව. ඊටපස්සෙ ගවයා අර ගින්දර ටික ළඟ ගැට ගහලා මෙයා ගියා කඩුව ගේන්න. දැන් තාත්තා කියපු දේ, බ්‍රාහ්මණ කුමාරයෙක්. ඊටපස්සෙ මොකද කලේ ඒ කඩුව ගිහිල්ලා අරන් එන අතරෙ හරකා හොරෙක් අරන් ගිහිල්ලා. ඊටපස්සෙ මේ බෝධිසත්ත්ව කුමාරයා කල්පනා කරනවා ගිනි දෙවියන්ටම පුදන්න ගෙනාපු හරකා පරිස්සම් කරගන්න ගිනි දෙවියන්ට බැරි නම්, අපිව රකින්නෙ කොහොමද කියලා ඒ වෙලාවෙම අර ගින්දරට වතුර එකක් ගහලා නිවලා, ඒ වෙලාවෙම පැන් කෙණ්ඩිය අරන් හිමාලෙට ගිහිල්ලා තියෙනවා තපස් රකින්න. කොහොමද අත්හැරිල්ල. එතකොට දැන් අද කාලෙ දෙවියෝ භූතයෝ අදහන අයට හිතන්න බැනෙ ඒ අයත් අවි ආයුධ කිණිසි පොරෝ ගිනිජාලා තියාගෙන ඒ අයත් රෙඩි පිට ඉන්නෙ එන ඕන කෙනෙකුට ගහන්න. ඒත් බයෙන්නෙ. ඒත් බය තැතිගැනීම් නිසානෙ අවි ආයුධ ඔක්කෝම ටික තියාගෙන පවර් එක දාගෙන ඉන්නෙ. එතකොට ඒ අයත් අවි ආයුධ වලින් නම් පිහිට පිළිසරණ හොයන්නෙ, ඒ වගේ අයගෙන් අපි පිහිට පිළිසරණ හොයන්න ගියාට පස්සෙ අපිට මොකක්ද තියෙන සරණ කියලා හිතාගන්න නුවණක් නෑ කියලා යමක් ඇත්ද, මේක නම් සත්ත්වයාට මහා අභාග්‍යයක්. ඉතින් ඒ වගේ මහා බෝධිසත්ත්වයන්ගේ විශේෂ හැකියාවක් තමයි අත්හරිනවා, අපිට බැරිවුනාට. මේ ලෝකෙ පුදුම සහගත දේ තමයි වරදින එක නෙවෙයි, ඒ වරදින එක ඉක්මණට හදාගන්න එක. ඒ තමයි ශ්‍රේෂ්ට. මහා බෝධිසත්ත්වයෝත් සසරේ වරදින්න වරදින්න හැම දෙයක්ම හදාගත්තා. උන්වහන්සේ ආපු ගමන හරී සුන්දරයි. ඊළඟට උන්වහන්සේ ලෝකෙට පහළ වෙනකොට ආශ්චර්‍ය්‍ය අද්භූත

කාරණා පහළ වෙනවා. මිහිමඬල කම්පා වෙනවා. ආනන්තරීය නිරය දක්වා ආලෝකය විහිදිලා යනවා. මේ යමක් ඇත්ද, ඒ සියල්ලම බුදුරජාණන් වහන්සේගේ තියෙන සොඳුරු ගමන් මාර්ගය. මේ බෝධිසත්ත්ව කාලෙ. ඊටපස්සෙ උන්වහන්සේ නිවනක් සොයාගෙන සියල්ල අත්හැරලා අභිනිෂ්ක්‍රමණය කරනවා. එතකොට සියලූ පංච කාමයන්, රාජ සැප අත්හැරලා විමුක්තියක් නෙක්ඛම්මයක් සොයාගෙන යනවා කියලා යමක් ඇත්ද, ඒ හිතේ කොච්චර සොඳුරු බවක්, උත්තරීතර බවක් තියෙනවාද. ඊටපස්සෙ ලෝකයේ මිනිස්සු නිවන පිණිස පාවිච්චි කරන අත්ථකිලමතානුයෝගය, කාමසුඛල්ලිකානුයෝගය ඒ අන්ත දෙකම බැහැර කරලා මධ්‍යම ප්‍රතිපදාව තුළ උන්වහන්සේ හිත වැඩුවා. ඒ තමයි සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි. ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගමන් කරලා ඒ අමා මහ නිවනට සුන්දර අමා මහ නිවනට පත්වූ හෙයින් බුදුරජාණන් වහන්සේ සුගත වන සේක. සුන්දර නිවන් මාර්ගයේ ගමන් කරලා, සුන්දර නිවනට පත්වුනා. ඒ ආර්ය අෂ්ටාංගික, සම්මා දිට්ඨි කියලා කියන්නෙ දුක්ඛේඥාණං, සමුදයේ ඥාණං, නිරෝධයේ ඥාණං, මග්ගේඥාණං, ඒ නිවන් මාර්ගයේ සම්පූර්ණයෙන්ම තියෙන්නෙ දුක නම් වූ දේ අවබෝධ කිරීමත් එක්ක. දුක්ඛ සමුදය ප්‍රහාණය කිරීමත් එක්ක. දුක්ඛ නිරෝධය සාක්ෂාත් කිරීමත් එක්ක. මාර්ගය වැඩීමත් එක්ක, ඒ පිළිබඳව ඥාණය තියෙනවා, දැක්ම තියෙනවා, ඒක තමයි සම්මා දිට්ඨිය. එතකොට යම්කිසි කෙනෙක්ගේ හදවතේ චතුරාර්ය සත්‍යය දැක්ම තියෙනවා නම් කොච්චර සුන්දර හදවතක් ද. සම්මා සංකප්ප කියන්නෙ, කාම සංකල්පනා ඊළඟට හිංසා සංකල්පනා, ව්‍යාපාද - තරහා සංකල්පනා මේ සංකල්පනා වලට හිතේ ඉඩක් නෑ. තියෙන්නේ නෙක්ඛම්ම සංකල්පනා, අවිහිංසා සංකල්පනා, අව්‍යාපාද සංකල්පනා, මෛත්‍රී සංකල්පනා හිතේ තියෙන්නෙ. ඉතින් ඒ වාගේ සංකල්පනා පුරුදු කරනවා නම් කොයිතරම් සොඳුරු මාවතක්ද ඒක, සම්මා සංකප්ප. සම්මා වාචා කියන්නෙ නිවන් මාර්ගයේ ගමන් කරන කෙනාගේ වචනය තුළ බොරුව නෑ, කේලම නෑ, පරුෂ වචනය නෑ, හිස් වචනය නෑ. එතකොට කේලමෙන් තොර, බොරුවෙන් තොර, පරුෂ වචනයෙන් තොර, හිස් වචනයෙන් තොර වචන කතා කරනවා කියලා යමක් ඇත්ද, ඒ නිවන් මාර්ගය කොච්චර සුන්දරයිද. ඊළඟට සම්මා කම්මන්ත කියන්නෙ එයාගේ ක්‍රියාව තුළ ප්‍රාණඝාතය නෑ. සොරකම නෑ, වැරදි කාම සේවනය නෑ, භික්ෂුවක් නම් බ්‍රහ්මචාරීයි. එතකොට එයාගේ ක්‍රියාව කොච්චර සංවරයිද. ඊළඟට සම්මා

ආජීව. සම්මා ආජීවයේදී එයා තමන්ගේ ජීවිතේ ජීවත්වීම කිසි කෙනෙකුට බරක් වෙන විදියට ජීවත් වෙන් නෑ, මිත්‍යා ආජීවයෙන් බැහැර වෙලා සම්මා ආජීවයෙන් ජීවත් වෙනවා. දැහැමි දිවිපැවැත්මක් තියෙන්නෙ. සම්මා වායාම කියන්නෙ එයාගෙ ජීවිතය අකුසල් දුරු කිරීම, කුසල් ඉපදවීම පෙරටු කරගෙන තියෙන්නෙ. ඒකටයි වීර්යය තියෙන්නෙ. සම්මා සති කියලා කියන්නෙ සතර සතිපට්ඨානය තුළ කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, ධම්මානුපස්සනා කියන අනුපස්සනා හතර තුළ සිත නිතර පිහිටලා තියෙන්නෙ. සම්මා සමාධි කියන්නෙ එයාගේ හිත ඒ සතිපට්ඨානයෙන් උපදවගත්ත පළවෙනි ධ්‍යානය, දෙවෙනි ධ්‍යානය, තුන්වෙනි ධ්‍යානය, හතරවෙනි ධ්‍යානය ආදී ධ්‍යාන සැපයේ හිත වාසය කරනවා. එතකොට මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය සුන්දරයි. මධුපිණ්ඩ ඉදං භික්ඛවේ යද්ධං බ්‍රහ්මචරියං, මේ නිවන් මාර්ගය පින්වත් මහණෙනි, මී වදයක් වගේ කියලා බුදුරජාණන් වහන්සේ වදාළා. එච්චර සුන්දරයි මේ මාර්ගයේ ගමන් කරන්න යනකොට. මේ ලෝකයේ ඇත්තෙන්ම සොඳුරුම හිනාව තියෙන්නෙ පින්වතුනි, ඇත්තටම මාර්ගඵල ලාභීන් තුළ. ධර්මය පුරුදු කරන අය තුළ. අවංක හිනාව තියෙන්නෙ. ගොඩාක් අයගේ හිනාව මවාගත්ත දෙයක්. කරන්න දෙයක් නැති තැන හිනාවෙන එකක් ලෝකෙ මිනිස්සුන්ගෙ තියෙන්නෙ. ඊළඟට පව්ඩර්සෙන්ට් ගාලා මූණ මේවාකරගන්න එකක් තියෙන්නෙ මිනිස්සුන්ගෙ. ඉතින් ඒ නිසා මේ මිනිස්සුන්ට සෙන්ට් පවුඩර් නැත්නම් මනුස්සයාගෙ මූණෙ ඇඟේවත් කිසිම ප්‍රසන්න බවක් සුවඳක් නෑ, නමුත් නිවන් මාර්ගයේ ගමන් කරන අය තුළ මූණෙ හරී ප්‍රසන්න බවක් සිරියාවක් සුන්දරත්වයක් තියෙනවා. ඇයි ඒ අයගේ හිත් දැවි දැවී තියෙන්නෑ කාමයෙන්. ඒ අයගේ හිත් දැවි දැවී තියෙන් නෑ පසුතැවිල්ලෙන්. ඒ අයගේ හිත් දැවි දැවී තියෙන් නෑ විසිරීමෙන්. එයාලගේ ජීවිතේ තියෙන්නෙ යම් අවබෝධයක් තුළ. ඒ නිසා මෙන්න මේ නිවන් මාර්ගය ආර්ය අෂ්ටාංගික මාර්ගය නැමැති නිවන් මාර්ගය පළමුවෙන්ම මේ මාර්ගය සොයාගෙන ප්‍රගුණ කලේ, ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේයි. ඒ මාර්ගය අතිශයින් සුන්දරයි. ඒ නිසා ඒ සුන්දර නිවන් මාර්ගය සොයාගෙන කාමය නැති, රාගය නැති, ද්වේෂ නැති, මෝහය නැති තණ්හක්කයෝ විරාගෝ නිරෝධෝ නිබ්බාණං, තණ්හයා ක්ෂය වෙච්චි විරාගී වූ නොඇල්මෙන් යුතු, ඒ වගේම කෙළෙසු දුරු වීමෙන් යුතු කෙලෙස් ප්‍රහාණ කළ ඒ අමා මහා නිවන නම් වූ ඒකාන්ත සනාතන සැපයට පත්වුනා ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන්. ඒ නිසාම තුන් ලෝකය පුරාම බුදුරජාණන් වහන්සේට

සුගතයන් වහන්සේ කියලා, සුන්දර නිවන් මාර්ගයේ ගමන්කොට සොඳුරු නිවනට පත්වූ සුන්දර උත්තමයන් වහන්සේ කියන නම පැතිරිලා ගියා. සුගතයි. ඒ ගුණය අතිශයින් පින්වතුනි සුන්දරයි. වෙන ලෝකෙ කිසිම කෙනෙක් ගාව සොඳුරු නිවන් මඟ නෑ. සොඳුරු නිවන් මාර්ගය නෑ. බුදුරජාණන් වහන්සේ තුළ තියෙන්නෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේගෙන් පස්සෙ ශ්‍රාවකයිනුත් නිවන් මාර්ගයේ ගමන් කලා, නමුත් ඒ ශ්‍රාවකයන්ට සුගත කියලා කියන්නෑ. පින්වතුනි මේ මාර්ගය ඉස්සෙල්ලාම උපදවා ගත්තෙ බුදුරජාණන් වහන්සේ. මේ ලෝකයේ යම්කිසි කෙනෙක් ශ්‍රද්ධාවට පත්වුනා නම් ඒවගේම යම්කිසි ගුණයක් ඉපැද්දුවා නම් ඒ ඔක්කෝම බුදුරජාණන් වහන්සේගෙන් බුදු බණ පදයක් ඇහුව නිසා. ඒ සියල්ලම බුදුරජාණන් වහන්සේ නිසා. බුදුරජාණන් වහන්සේගේ ධර්මයෙන් තොරව මේ ලෝකෙ කිසිම මාර්ගඵල ලාභියෙක් බිහි වෙන්නෑ, ඒ නිසා ඒ සුන්දර නිවන් මාර්ගයේ ගමන් කොට සොඳුරු නිවනට පත් වූ හෙයින් බුදුරජාණන් වහන්සේ සුගතයි කියලා කියනවා. ඉතින් බුදුරජාණන් වහන්සේගේ පන්සාලිස් වසරක් වූ සම්බුදු දිවිය පුරා උන්වහන්සේගෙන් නොමගතක් නෑ, උන්වහන්සේගේ වැරදුනු මාවතක් නෑ, වැරදුනු ක්‍රියාවක් නෑ, වැරදුනු සිතිවිල්ලක් නෑ, වැරැදුනු වචනයක් නෑ. බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන් සුගතයි. එතකොට ඒ ලෝකෝත්තර අර්ථයෙන් තමයි පින්වතුනි සුගතයි කියලා කියන්නෙ. ඒ වගේම දෙව් මිනිස් ලෝකයා බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ ගමන් මාර්ගයට පවා සුගතයි කියලා කිව්වා. ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේ වඩින විදියට සුන්දර ගමන් ඇති මේ පිළිබඳව තියෙනවා ඉතාමත් සුන්දර විස්තරයක්, බුදුරජාණන් වහන්සේ ගමන් කරන හැටි, දානය වළඳන හැටි, ඊළඟට බුදුරජාණන් වහන්සේ දහම් දෙසනහැටි, හුදෙක් බත් පිඩක් ගත්තට පස්සෙ ඒ බත් පිඩ හපන විදිය පවා තියෙන සූත්‍ර දේශනාවක් තියෙනවා. ඒ සූත්‍ර දේශනාවේ නම බ්‍රහ්මායු සූත්‍රය. අපිට කල්යල් තිබුනොත් අපිට පිනක් තිබුනොත් මේ වැඩසටහනේ එක වැඩසටහනක් අරගෙන ඒ බ්‍රහ්මායු සූත්‍රය විස්තර කරගනිමු. එතකොට ඒ බුදුරජාණන් වහන්සේගේ සෑම තැනකම තියෙන්නෙ සොඳුරු බව. උන්වහන්සේගේ ජීවිතයේ තියෙනවා පෙරයම් කිස - උදේ වරුවේ කරන සම්බුද්ධ කෘත්‍යයක් තියෙනවා. ඊළඟට පසුයම් කිස. ඊළඟට පැසුළුයම් කිස, ඒ කියන්නෙ හවස්වරුවේ උන්වහන්සේගේ යම්කිසි බුද්ධ කෘත්‍යයක් තියෙනවා. ඊළඟට පෙරයම් කිස, ඊළඟට උන්වහන්සේගේ තියෙනවා පෙරයම සම්බුද්ධ කෘත්‍යයක්. මැදියම් කිස, අලුයම් කිස මේ විදියට බුදුරජාණන් වහන්සේගේ සම්බුදු දිවිය දවසට කොටස් පහකට

බෙදලා බුදුරජාණන් වහන්සේ ලෝක සත්ත්වයාට හිත සුව පිණිස කටයුතු කරනවා. පෙරබත්කිස, පසුබත්කිස ආදී වශයෙන්. ඊළඟට ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ ඒ ක්‍රමානුකූලව ගෙවීගෙන යනවා කියලා යමක් ඇත්ද, සෑම තත්පරයක්ම ලෝකයාට හිත සුව පිණිස ගෙවීයාමක් කියලා යමක් ඇත්ද, ඒක බුදුරජාණන් වහන්සේගේ සොඳුරු සම්බුදු දිවිය, සුගත වන සේක. මේ විදියේ දිවියක් තුන් ලෝකෙ කාටවත්ම නෑ. ගෙවෙන හැම තත්පරයක්ම ලෝකයාට හිතසුව පිණිස ගෙවෙනවා නම් එවැනි ජීවිතයක් තුන්ලෝකෙ කාටවත්ම නෑ, ඒක තියෙන්නෙ බුදුරජාණන් වහන්සේට. ඒ වාගේ සොඳුරු ජීවිතයක් අපගේ බුදුරජාණන් වහන්සේට තිබුනා. ඊළඟට පින්වතුනි බුදුරජාණන් වහන්සේ ගමන් කරනකොට ඒ ගමන් කරන ජීවිතය හරි පුදුමයි. ඒක සේක සූත්‍ර අටුවාවේ විස්තර කරනවා උන්වහන්සේ ගමන් කරන විදිය, ඒවං සබ්බංග සම්පන්නෝ කම්පයන්තෝ වසුන්දරං අහේතයංතෝ පානානි යාතිලෝකෙ විනායකං, මෙසේ සියලු අංගයන්ගෙන් සම්පූර්ණ වූ ලෝක නායකයාණන් වහන්සේ මිහිමඩල සනසා සනසා වඩිනවා. උන්වහන්සේ අහේතයංතෝ පානානි යාතිලෝකේ විනායකං, ලෝකෙට කිසිම හිංසාවක් නැති බුදුරජාණන් වහන්සේ ලෝකෙ සැරිසරා වඩින්නෙ. දක්ඛිණං පඨමං පාදං උත්තරංතෝ නරාසභො, ඒ නරාසභ වූ තථාගතයන් වහන්සේ හැමදාම ගමනක් වඩිනකොට හැමදාම, පන්සාලිස් වසක් පුරාවටම උන්වහන්සේ ඉස්සෙල්ලාම තියලා තියෙන්නෙ දකුණු පාදය. ගච්ඡන්තෝ සිරිය සම්පන්නෝ සෝබතේ ද්විපදුත්තමෝ, කියනවා ද්විපද උත්තමයාණන් වහන්සේ ගමන් කරනකොට හරීම සෝබමානයි කියලා කියනවා. සුන්දරයි කියලා කියනවා. ඊටපස්සෙ තියෙනවා ගච්ඡන්තෝ බුද්ධ සෙට්ඨස්ස හෙට්ඨාපාද තලංමුදො සමන්සතුසේ භූමිං රජසාමුපලිප්පති, කියනවා ඒ ගමන් කරන්නා වූ බුද්ධ ශ්‍රේෂ්ටයන් වහන්සේගේ යටිපතුල් ඉතාමත් මෘදුයි. රෝස පාට සිරිපා. ඉතින් ඒ සිරිපා කොච්චර මෘදුයි ද කියනවා නම් භාග්‍යවතුන් වහන්සේගේ සිරිපා වල දූවිලි ගෑවෙන් නෑ, බුදුරජාණන් වහන්සේගේ සිරිපා සඟලේ පන්සාලිස් වසකට දූවිලි ගෑවිලා නෑ. ඊටපස්සෙ තියෙනවා නින්නංඨානං උන්නමති ගච්ඡන්තේ ලෝකනායකේ. ලෝකනායකයන් වහන්සේ ගමන් කරනකොට මේ පොළොවේ පහත් තැන් උස් වෙනවා, උණ්ණතංච සමන්හෝති පඨවිච අචේතනා, උස් තැන් පහත් වෙනවා, බලන්න සිත් පිත් නැති මහපොළොව සම්බුදුරජාණන් වහන්සේගේ ගමන ඉදිරියේ වෙනස් වෙන හැටි. ඊටපස්සෙ තියෙනවා, පාෂාණං සක්කයාචේව කටලාකාණුකණ්ඨකා සබ්බේ මග්ගා විවච්ඡෙන්ති ගච්ඡන්ති

ලෝකනායකෝ. ලෝක නායකයාණන් වහන්සේ ගමන් කරනකොට පාරෙ තියෙන කටු බොරළු ගල් කැට සක්කරා මේ ඔක්කෝම අයින් වෙලා අර සමලෙස පොළොවේ පිහිටන උතුම් සිරිපා සඟලට අනුව පොළොව හැදෙනවා කියනවා. ඊටපස්සෙ තියෙනවා, නාතිදූරේ උද්ධරති නාචාසන්නේච නික්ඛිපං අගව්ඨයංතො නෙයයාති උභෝජානුග බොප්පකේ, බුදුරජාණන් වහ්නසේගේ සිරිපා සඟල දුරින් තියන්නෙත් නෑ, ළඟින් තියන්නෙත් නෑ, ගොප්ඇට දෙක වදින්නෙත් නෑ. සිරිපා වල තියෙන ගොප් ඇට. පන්සාලිස් වසකට පා දෙක එකට හැප්පිලා නෑ පින්වතුනි. ඒ වගේම බුදුරජාණන් වහන්සේ අද සෙමෙන් වඩිනවා. බුදුරජාණන් වහන්සේ අද ටිකක් ඉක්මණින් වඩිනවා කියලා පන්සාලිස් වසරටම බුදුරජාණන් වහන්සේ ඉක්මණින් වැඩියා, සෙමෙන් වැඩියා කියලා එකක් නෑ. පන්සාලිස් වසරටම එක විදියට ගමන් කරන්නෙ. සම්මා සම්බුද්ධත්වයට පත්වෙලා උන්වහන්සේ බෝ සෙවණේ ගමන් කලේ යම් විදියකටද, කුසිනාරාවට ගමන් කරන්නෙත් ඒ විදියට. පුදුම සහගතයි. භාග්‍යවතුන් වහන්සේගේ අමා මහ නිවන් මාර්ගය ගැන කවර කතා ද, උන්වහන්සේ මේ ලෝකයේ සාමාන්‍ය ගමන බිමන පවා බුදුරජාණන් වහන්සේගේ සුන්දරයිනෙ. නාතිසේසං පක්ඛමති සම්පන්නසස්ස සම්පන්න චරණතෝ මුණිං නචාති සන්තිකං යාති ගච්ඡමානෝ සමාහිතෝ, ඉක්මණින් යනනෙත් නෑ, සෙමෙන් යන්නෙත් නෑ, සමාහිත සිත් ඇති බුදුරජාණන් වහන්සේ සොඳුරු ලෙස වඩිනවා. උද්ධං අධෝච තිරියංච දිසං ච විධි සංකතා න පෙක්ඛමානො සෝයාති යුගමන්තං සොපෙක්ඛසි, බුදුරජාණන් වහන්සේ ගමන් කරනකොට වට පිට බලලා, උඩ බලලා, ඔහොම හත් දීපංකරේ තියෙන ඒවා බල බලා වඩින්නෙ නෑ. බුදුරජාණන් වහන්සේ බඹයක් පමණ දුර බලාගෙන වඩිනවා. නමුත් බුදුරජාණන් වහන්සේ අවට සිද්ධ වෙන හැමදෙයක්ම දන්නවා. කොයිතරම් සොඳුරුද පින්වත්නි. අපි බඹයක් පමණ දුරක් විතරක් බලාගෙන ගිය ගමනක් මේ ජීවිත කාලෙටම ඔබ සිහි කරන්න, ඊටපස්සෙ නාගවික්කන්ත චරෝසෝ ගමනේ සොබ්බතෝ ජිනෝ චාරුංගච්ඡති ලෝකග්ගෝ හාසයංතො සදේවකේ, ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගේ ගමන නාගවික්ඛන්ත ගමනක්. හස්තිරාජයෙක්, වඩින ගමන ඇත්රජුගෙ විලාසේ. උන්වහන්සේ පන්සාලිස් වසටම බෙල්ල හරවලා බලලා නෑ. බුදුරජාණන් වහන්සේ පන්සාලිස් වසටම බෙල්ල හරවලා බලලා නෑ. බලනවානම් මුළු ශරීරයම ඇතෙක් වාගේ හරවලා තමයි බලන්නෙ. ඒක ඒ බුදුරජාණන් වහන්සේලාගේ ශරීරයේ තියෙන ආනුභාවයක්. උන්වහන්සේගේ

ග්‍රීවා ධාතූන් වහන්සේ තියෙන්නෙ ඒ විදියට. ඊළඟට බුදුරජාණන් වහන්සේ ගමන් කිරීමේදී ලෝක නායකයාණන් වහන්සේ, දෙවියන් බඹුන් සතුටු කරවමින් සාදු නද හඬවා හඬවා සාදුනාදය, ඒ වනයේ, උන්වහන්සේ වනයේ ගමන් කරනකොට වනයේ තියෙන මල් රේණු ඒ මාවතට වැටෙනවා. මිහිමඬල සැනසෙනවා. ඈත සිටන් දෙවිවරු වන්දනා කරගෙන බුදුරජාණන් වහන්සේ දෙස බලා සිටිනවා. කොයිතරම් සොඳුරු ගමනක්ද. සුගත බුදුරජාණන් වහන්සේ. ඊටපස්සෙ තියෙනවා වෘෂභරාජාව සෝභන්තෝ චතුත්ථාරේව කේසරී තෝසයංතෝ බහුසත්ථේ පුරසෙට්ට මොපාගමේ, ඒ භාග්‍යවතුන් වහන්සේ වෘෂභ රාජයෙක් වගේ. ඊළඟට සිංහ රාජයෙක් වගේ ගමන් කරන්නෙ, උන්වහන්සේ නගරයට ප්‍රවිෂ්ඨ වෙන්නෙ එහෙම කියනවා. එතකොට ඔය ඉතාමත් සුළු දෙයක්, පින්වතුනි උන්වහන්සේ පන්සාලිස් වසරකට ගෙදරකට වඩිනකොට හිස පාත් කරලා නෑ. උන්වහන්සේ වඩිනකොට එක්කො මහපොළොව බිමට පාත්වෙනවා, එහෙම නැත්නම් උළුවස්ස උඩට ඉස්සෙනවා, උන්වහන්සේ වඩිනවා. උන්වහන්සේගේ ආසනයේ උන්වහන්සේ ඍජුව තමයි උන්වහන්සේ අසුන්ගෙන තියෙන්නෙ. දානයක් වළඳනකොට උන්වහන්සේ කවදාවත් හතර වතාවක් හපලා නෑ. උන්වහන්සේ මුඛයට ගන්නා ආහාර දෙපාරයි තුන්පාරයි හපන්නෙ. සියලූම ආහාර ඒකෙ හැපෙනවා. ඊටපස්සෙ ඒ හපපු ආහාරය ගිල්ලාට පස්සෙ අබ ඇටයක තරම්වත් ආහාර පොඩ්ඩක් මුඛයේ රඳින් නෑ, සියල්ලම එකපිට ගිලීයනවා. මේක ආශ්චර්‍ය්‍ය අද්භූත කාරණාවක්. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ, උන්වහන්සේ දහම් දෙසනකොට මිහිරි ලෙස දහම් දෙසන්නෙ එතකොට ඒ ඉන්න පිරිසෙන් එහාට හඬ විසිරෙන් නෑ, ඉස්සෙල්ලාම ඉන්න කෙනාට වගේ අසූහාරදාහක් බණ අහනවා නම් පිටිපස්සේම ඉන්න කෙනාටත් ඒ විදියටම ධර්මය ඇහෙනවා. කොයිතරම් ආශ්චර්‍ය්‍යයක්ද පින්වතුනි බුදුරජාණන් වහන්සේලාගේ. ආශ්චර්‍ය්‍යයි. සුගතයි. ඒ අපගේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ සුන්දර වූ නිවන් මාර්ගයේ ගමන් කොට සුන්දර නිවනට පත්වුනා. සුගත වන සේක. මාගේ බුදුරජාණන් වහන්සේ සුන්දර ගමන් ඇති සේක. සුන්දර කතා ඇති සේක. සුන්දර සිතිවිලි ඇති සේක. බුදුරජාණන් වහන්සේ පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ බුදු සිරුර ගත්තොත් එහෙම දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් හෙබි සක්විති රාජ්‍ය සම්පත්තියෙන් පිදුම් ලබන්න හිටපු සක්විති රාජ්‍යය අත්හැරලා ලොව්තුරා සම්මා සම්බුද්ධ රාජ්‍යය පිහිටෙව්වා. උන්වහන්සේ සක්විති රජෙකුට සෝබමාන, දෙතිස් මහා පුරුෂ

ලක්ෂණ තියෙන, මුලු ලෝකයාම දණගස්සවන ශරීරයකින් යුක්තයි. උන්වහන්සේගේ සිරිපා සඟල, නෙත් සඟල, උන්වහන්සේගේ ඡවි වර්ණය, ඒ සියල්ල ලෝකයට පුදුම සහගතයි. මිනිස්සු අතර උන්වහන්සේ බැබලෙනවා. බුදුරජාණන් වහන්සේ දවසක් දේශනා කරනවා පින්වත් මහණෙනි, ලිච්ඡවි කුමාරවරු දෙස බලන්න. ඒ ලිච්ඡවි කුමාරවරු පින්වතුනි දිව්‍ය කුමාරවරු වගේ. රතුපාට ආභරණ වලින් රතුපාට වස්ත්‍ර වලින් සැරසිලා රතුපාට යානා වල යන්නෙ. නිල්පාට වස්ත්‍ර වලින් නිල් පාට ආභරණ වලින් නිල්පාට රථ වල යන්නෙ. අර විනිවිද පේන සමට ඒ රශ්මිය වැදිලා ශරීරයත් ඒ ස්වභාවයට පත්වෙනවා. බුදුරජාණන් වහන්සේ වදාළා චාතුම්මහාරාජිකයේ දෙවියෝ දැකලා නැත්නම් ආන්න ලිච්ඡවි කුමාරවරු දෙස බලන්න කියනවා. ඒ තරම් සොඳුරු කුමාරවරු බුදුරජාණන් වහන්සේ පිරිවරාගෙන බණ අහද්දි ... දුටුවා බුදුරජාණන් වහන්සේ මේ සියලු කුමාරවරු අතර බබලන්නේම බුදුරජාණන් වහන්සේයි. කසාවත් දරාගත්ත කෙස් කපන ලද ඒ ශ්‍රමණයන් වහන්සේ නමක් වන බුදුරජාණන් වහන්සේම අර සියලු සෝභාව අතර බබලනවා. ඊටපස්සෙ ... කියනවා පදුමං යථා කෝකනදං සුගන්දං පාතෝසියාපුල්ල මවීත බන්ධං අංගීරසං පස්ස විරෝචමානං තපඤ්ච මා දින්ත නිවන්තලික්ඛෙ, උදේ පාන්දරම පිපෙනවා නෙළුම් මලක් හිරු මඩලට. සොඳුරුව වැඩුනු නෙළුම් මල මෙහෙම පිපෙනවා. ඒ පිපිච්ච ගමන් ඒ නෙළුම් මලට කියනවා කෝකනද කියලා. ඒක ගොඩාක් සුවඳ පැතිරිලා යනවා. සුවඳ පැතිරෙන ඒ වෙලාවෙම පිපුණු උදෑසන, රත් නෙළුම් මලක් වගේ. ඊටපස්සෙ සරත් කාලයේ වළාකුළු නැති අහසේ දිලෙන හිරුමඩලක් වගේ. සියලු අංගයන්ගෙන් රැස් විහිදවන බුදුරජාණන් වහන්සේ සියලු දෙනා අතර බබළනවා. උදයට පිපි සුවඳ හමන රතු පියුමක් වැන්නේ, සරත් කලට අහසෙ දිලෙන හිරු මඩලක් වැන්නේ. සීල සමාධි ගුණ නුවණින් හැම විට බබළන්නේ, අන්න බලන් අංගීරස සම්බුදුය බබළන්නෙ. බුදුරජාණන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ දෙවියන්ට දහම් දේශනා කරනවා. ඒ මනුස්ස ශරීරය ඉක්මවා ගිය වර්ණයකින් යුතු දෙවියෝ මැද බුදුරජාණන් වහන්සේම බබළනවා. අර දෙවියො නෙවෙයි බබළන්නෙ බුදුරජාණන් වහන්සේ. ඊළඟට ධ්‍යාන සැපයෙන් කල් ගෙවන බ්‍රහ්මයෝ ඉන්නවා. බ්‍රහ්මයෝ මැද බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නවා. ඒ බ්‍රහ්මයෝ නෙවෙයි බබළන්නෙ. බුදුරජාණන් වහන්සේම බබළනවා. සම්බුදු සිරුරෙන් බැබලී බැබලී වැඩ සිටියා. අන් අයගේ ආලෝකය පරදවා, පරදවා වැඩ හිටියා. සියලු අංගයන්ගෙන් රැස් විහිදෙන, ෂඩ් වර්ණ බුද්ධ රශ්මි මාලාවෙන් බබලන, කේතුමාල භ්‍යාමප්‍රභා රශ්මි

ධාරාවන්ගෙන් බබළවන ලොව්තුරා අපගේ අමා මෑණී සම්මා සම්බුදුරජාණන් වහන්සේ දෙව් මිනිසුන් අතර බබළනවා. සුන්දරයි මගේ බුදුරජාණන් වහන්සේ සුගත වන සේක. ඊළඟට උන්වහන්සේ පින්වතුනි, උන්වහන්සේගේ කතාව, උන්වහන්සේගේ වචනය සොඳුරු වදන් ඇති සේක. ඒ බුදුරජාණන් වහන්සේ විවරණ ගත් දා පටන් අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් ඒ බෝධිසත්ත්ව මුවමඩලින් වත් බොරුවක් කියවුන් නෑ කියලා යමක් ඇත්ද, අසංඛෙය්‍ය හතරක් බොරු නොකියපු පින් බලයෙන් හැදිච්ච කටහඬ කොහොම ඇතිද. අසංඛෙය්‍ය හතරක් අන් අයට යහපත සිද්ධ කරපු, යහපත පිණිස කතා කරපු, ඇත්ත කතා කරපු, ඒ වචනය තුළ කොයි තරම් නම් පින් බලයක් ඇති ද. මිනිස්සුන්ගේ කෙලෙස් දුරුවෙනවානේ. ඒ බුදුරජාණන් වහන්සේ එක බණ පදයෙන් රහතන් වහන්සේලා බිහිවෙනවානෙ. මාර්ගඵල ලාභීන් බිහිවෙනවානෙ. ඊළඟට පින්වතුනි කල්ප කෝටි ගණන් ගින්දරේ දුක් විඳින අයගේ නිරාගිනි නිවෙනවානේ බුදුරජාණන් වහන්සේගෙ බණ පදයකට. එවැනි වචන ඇති බුදුරජාණන් වහන්සේගේ කතාව සොඳුරු වචන සමුදාය කෙතරම් සුන්දර වෙන්න ඇති ද. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ වචනය තුළ බොරුව නෑ. කේලම නෑ, පරුෂ වචනය නෑ. හිස් වචනය නෑ. කවදාවත් බුදුරජාණන් වහන්සේ පන්සාලිස් වසරටම අර්ථවත් නැති වචනයක්, අකුරක් කියලා නෑ. උන්වහන්සේගේ සෑම වචනයකම තියෙන්නෙ දෙව් මිනිසුන්ට හිත සුව පිණිස පවතින වචන. ඒකයි උන්වහන්සේගේ පිරිත් වල ආනුභාවය එච්චර පැතිරිලා තියෙන්නෙ. දැන් අපි ගත්තොත් ධජග්ග සූත්‍රය. ඊළඟට ඉසිගිලි සූත්‍රය. කන්ධ පිරිත, මෝර පිරිත, රතන සූත්‍රය, කරණීයමෙත්ත සූත්‍රය, ආටානාටිය සූත්‍රය, ඊළඟට අංගුලිමාල පිරිත. මේ පිරිත් වල ආනුභාවය සක්වල කෝටියක පැතිරිලා තියෙනවා. හිරු සඳුගෙන් ආලෝකමත් වෙන සක්වලක්, චක්‍රාවාටයකට තමයි සක්වල කියලා කියන්නෙ. එවැනි ඉරුගෙන් සඳුගෙන් ආලෝකමත් වෙන ලෝක කෝටියක ඒ පිරිත් වල ආනුභාවයම පැතිරිලා යනවා. ඒ පිරිත් වල ආනුභාවය කියන්නෙ එදා බුදුරජාණන් වහන්සේ විශාලා මහනුවර රතන සූත්‍රය දේශනා කරනකොට යම් ආනුභාවයක් පැතිරිලා ගියා නම් මේ සක්වල කෝටියකට එහා ඉඳලා රතන සූත්‍රය දේශනා කලත් ඒත් අර ආනුභාවයම පැතිරිලා යනවා. උන්වහන්සේගේ වචනයේ, සමහරවෙලාවට ඒ වචනයේ ආනුභාවය කල්පයක් පවතිනවා. දැන් ගත්තොත් එහෙම බුදුමුවින් ඉස්සෙල්ලාම යථෝහං භගිනි අරියාය ජාතියා ජාතෝ නාමාමි සංචිච්චපානං ජීවිතාවරෝපේත ඒතෙන සච්චේන සොත්ථිතේ හෝතු ගබ්බස්සාති කියන වචන ටික ඉස්සෙල්ලාම

බුදුරජාණන් වහන්සේගේ බුදු මුව මඩලින් තමයි පිටවුනේ. ඒ අංගුලිමාල පිරිතේ ආනුභාවය කල්පයක් පවතිනවා. එතකොට යම්කිසි කෙනෙක්ගේ ප්‍රකාශය කල්පයක් පවතිනවා කියලා යමක් ඇත්ද, ඒ වාගේම සක්වල කෝටියක පැතිරෙනවා කියලා යමක් ඇත්ද, ඒ වචනයේ තියෙන සොඳුරු බව ආනුභාවය හිතාගන්න පුලුවන්ද කියලා බලන්න. බුදුරජාණන් වහන්සේගේ වචනයේ තියෙන තේජස. උන්වහන්සේගේ කිසිම දෝෂයක් නැති දෙව් මිනිසුන් සාධුකාර දීලා හිස් මුදුනින් පිළිගන්නා වූ කෙළෙස් ගිනි නිවන වචන තියෙනවා. ඒ නිසා බුදුරජාණන් වහන්සේට සුගතයි කියලා කියනවා. ඊළඟට පින්වතුනි අපි බුදුරජාණන් වහන්සේගේ ජීවිතය ගත්තොත් එහෙම බුදුරජාණන් වහන්සේගේ තියෙන සංකල්පනා, ඊළඟට කාමයෙන් දැවෙන් නැති සිතිවිල්ල දැන් අපි ගත්තොත් එහෙම බුදුරජාණන් වහන්සේ කාමසුඛල්ලිකානුයෝගය අත්හැරලා ඊළඟට බුදුරජාණන් වහන්සේගේ සිතේ බුද්ධානුභාවය පතුරුවාගෙන බුදුරජාණන් වහන්සේ වාසය කරනකොට තණ්හා, අරති, රඟා කියන මාර දූවරු උන්වහන්සේ කරා පැමිණිලා උන්වහන්සේ පොළොඹවා ගන්න හදද්දි ඒ කිසිවකින් සැලෙන් නැති මහා පුරුෂයෙක්. මාගන්දිය ඇවිල්ලා කියනවා මගේ සොඳුරු රූ ඇති දෝණියන්දෑ ගන්න ඔබ වහන්සේට. මගේ මාපටඇඟිල්ලෙන් වත් ස්පර්ශ කරන්න කැමති නෑ කිව්වා. එතකොට උන්වහන්සේ ඒ ශරීරය දෙස දකිනවා නව දොරකින් අශුචි වැගිරෙන කුණප කොට්ඨාශ තිස් දෙකක් විදියට ශරීරය දිහා බලන්නෙ. බුදුරජාණන් වහන්සේගේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් යුතු රැස් විහිදෙන බුදු සිරුර සුවඳ විහිදෙන බුදු සිරුර දිහා බලාගෙන හිටපු වක්කලී ස්වාමීන් වහන්සේට බුදුරජාණන් වහන්සේ වදාලා, කිංතේ වක්කලී, ඉමිනා පූතිකායේන දිට්ඨේන, වක්කලී කුණුවෙලා යන ශරීරයක් දිහා බලාගෙන ඉදලා මොකටද කියලා ඇහුවා. මේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් සුසැදි සුවඳ විහිදෙන, රශ්මිය විහිදෙන, රන්වන් රන් ශ්‍රී දේහයට. එතකොට එවැනි දේහයක් දිහාත් ඒ විදියට නම් උන්වහන්සේ දකින්නෙ ඇල්මක් නැත්නම්, ආසාවක් නැත්නම්, රාගයක් නැත්නම්, කාමයක් නැත්නම්, ඒ හිත කොයිතරම් සුන්දරද. දැන් සමහර වෙලාවට කැත ශරීර, ගඳ ගහන ශරීර කිසිම අංගපුලාවකට නැති ශරීරත් එක්ක කාමයෙන් රාගයෙන් දැවෙන සත්ත්වයා දිහා බලද්දි මේ සත්ත්වයන්ගේ සිත් කොච්චර කිලිටිද. කොච්චර අසුන්දරද. පිටවෙන වචනත් එක්ක බලන්න එයාලගේ හිත් කොච්චර අපිරිසිදුද කියලා. කරන ක්‍රියාවත් එක්ක බලන්න ලෝකයාගේ හිත් කොච්චර අපිරිසිදු ද කියලා. ඊළඟට කොච්චර හිනාවෙලා සෙන්ට් පවුඩර් ගහගෙන

හිටියත් පින්වතුනි බිම බලාගෙන හිටියත්, හම සුදුවට තිබ්බත්, හිත ඇතුලේ තියෙන ජරා සිතිවිලි බලන්න. ඒවත් එක්ක හිත කොච්චර අසුන්දරයි ද කියලා. මගේ බුදුරජාණන් වහන්සේගේ සිතවත්, කයවත්, වචනයවත් එහෙම අසුන්දර නෑ. සුන්දරයි. උන්වහන්සේගේ ශරීරයේ රෝම කූපයකට පවා සක්වලක දෙවියන් වදිනවා. උන්වහන්සේගේ දන්තධාතූන් වහන්සේට පවා සක්වලක දෙවියන් වදිනවා. දස දහසක් සක්වලක දෙවියෝ. උන්වහන්සේ වඩින මාවතටත් වදිනවා. උන්වහන්සේ පොරවන චීවරයටත් වදිනවා. බලන්න එක උත්තමයෙක් කතා කරපු වචන, භාෂාව, අවුරුදු දෙදහස් හයසීයක් ගිහිල්ලත් අදටත් බුද්ධ වචනය විදියට ඉතුරු වෙලා උන්වහන්සේගේ වචනය. බුදුරජාණන් වහන්සේ ලෝකයේ අවුරුදු දෙදහස් හයසීයක් ඉතුරු වෙච්ච එකම භාෂාව මේ පාලි භාෂාව. ඇයි ඒ? බුදුරජාණන් වහන්සේ කතා කරපු නිසා. මේ ලෝකෙ කිසිම භාෂාවක් ඉතුරු වෙලා නෑ. අපේ හෙල භාෂාව වුනත් වෙනස් වෙලා තියෙන්නෙ පින්වතුනි. දැන් ඔය සෙල්ලිපි කියවන්න, අගත අනගත එහෙම තියෙනවා. එහෙම තිබ්බට අද කාලේ ඒ වචන මොකුත් පාවිච්චි වෙන් නෑ අද කාලෙ. නමුත් ඒ කාලෙ සිංහල මිනිස්සුන්ගේ භාෂාවනේ ඒ. හෙළ භාෂාවනෙ. වැඩිය ඕන නෑ මේ පැරණි පොත්පත් ලියපු කුරුණෑගල, දඹදෙණි යුගයේ, කෝට්ටේ යුගයේ, පොළොන්නරු යුගයේ ලියපු පොත්පත් තියෙනවානෙ. ඒ පොත්පත් වල තියෙන භාෂාව දැන් ඉන්න කොල්ලො කුරුට්ටන්ට කිව්වට පස්සෙ තේරෙන් නෑ. යාන්තම් අපිට ස්කෝලෙදි සිංහල සාහිත්‍යයත් එක්ක අපිට ඇත්තටම පැරණි වචන භාෂාව, පැරණි ග්‍රන්ථ අධ්‍යයනය කරන විදිය අපිට ඉගැන්නුවා. ඒ නිසා යාන්තම් අපිට ඒ පොත්වලට ආශාව ඉපදුනා. ඊටපස්සෙ මේ පැවිදි වුනාට පස්සෙ ශාසනික ජීවිතේ අපිට ඒ පොත්පත් පරිහරණය කරන්න ලැබෙන එක භාග්‍යයක්. ඒ නිසා සංඝයා වහන්සේලාට මේ වචන ගැන යම් දැනුමක් තියෙනවා. නමුත් අද කාලෙ ඉගෙන ගන්න කොල්ලො කුරුට්ටන්ට අතීතයේ තියෙන බුත්සරණ, ඊළඟට ධම්මපදීපිකාව, ඊළඟට ඔය තියෙන පොත්පත් වල විස්තර, වැඩිය ඕන නෑ පැරණි ජාතක කතා පොත වුනත්, පැරණි පන්සිය පනස් ජාතක පොත වුනත් කියෙව්වොත් එහෙම තේරෙන් නෑ වචන. එතකොට අපේ භාෂාවත් වෙනස් වෙලා. එක්දහස් නවසිය පනස් ගණන්, පනස් හයෙන්, පනස් හතෙන් පස්සෙ පරිවර්තනය කරපු ත්‍රිපිටක පොතේ පරිවර්තනත් තේරෙන් නෑ දැන්. ඒ නිසා තමයි ආපහු සිංහලෙන් පරිවර්තනය කරන්නට යෙදුනේ අර්ථ තේරෙන විදියට. ඉතින් කාලයක් යනකොට මේ සිංහලෙන් පරිවර්තනය කරපු ඒවත් ආයෙත් පරිවර්තනය

කරන්න වෙයි. දැන් ඉස්සර මිනිස්සු කිව්වානේ අම්මෝ ඉතාමත් සොඳුරු ලෙස වැටහෙනවා, හොඳටම තේරෙනවා. එහෙම කිව්වට තේරෙන්නෑ, දැන් හොඳටම කියන වචනයට සුපිරිම කියන වචනෙට දැන් කට්ටිය පාවිච්චි කරන්නේ එක එක වචන. එතකොට අනාගතේට ඒ වචන ඔක්කොම වෙනස් කරන්න වෙනවා. නමුත් අවුරුදු දෙදහස් හයසීයක් බුදුරජාණන් වහන්සේගේ වචන එකතු වෙලා තියෙනවා අද වෙනකොට ඉතිරි වෙලා තියෙනවා  බුදුරජාණන් වහන්සේ පන්සාලිස් වසක් පුරාවට කතා කරපු වචන ටික තියෙනවා. ඒ වචන එකකවත් කුණුහරුපයක් නෑ. ඒ වචන එකකවත් බොරුවක් නෑ, ඒ වචන එකකවත් කේලම් නෑ, හිංසාව නෑ. අන් අයට දඬුවම්  දීම් නෑ. අන් අයට පෙළීම් නෑ. වාද විවාද ඇති කරගැනීම් ඒ වචන වල නෑ. එතකොට කොයිතරම් සොඳුරුයිද කියලා බලන්න. බුදුරජාණන් වහන්සේ නමක් ලෝකෙට පහළ වෙනකොට මිහිමඬල සලිත වෙනවා. උන්වහන්සේ සම්බුදු වෙනකොට මිහිමඬල සලිත වෙනවා. උන්වහන්සේගේ අවබෝධය ලෝකෙට කියනකොට ලෝකය සලිත වෙනවා. උන්වහන්සේ පිරිනිවන් පාන්න හිතනකොට ලෝකය සලිත වෙනවා. උන්වහන්සේ පිරිනිවන් පානකොට මිහිමඬල සලිත වෙනවා. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ කෙනෙක් ලෝකයට පහළ වීම, බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් මිහිමඬල සාක්ෂි දරනවා. උන්වහන්සේ ලොව්තුරා සම්මා සම්බුදු වෙනකොට ඒ සම්බුද්ධත්වය දැකලා සාදු කියන්න ලෝකයේ කිසි කෙනෙක් නොසිටිද්දි ඒ වෙනුවට මිහිමඬල සලිත වෙවී සාදුකාර දෙනවා. අපේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන්ම සුන්දර ජීවිතයකින් යුක්ත වන සේක. සුගත වන සේක. ඊළඟට පින්වතුනි අපි ගත්තොත් එහෙම බුදුරජාණන් වහන්සේ කතා කරන වචනයේ තියෙනවා පින්වතුනි, අභයරාජ සූත්‍රයේ, අපි ඒ සූත්‍ර දේශනාව අපි ඉගෙන ගනිමු අනාගතේට. බුදුරජාණන් වහන්සේ කතා කරන වචන ඉතාමත් පින්වතුනි, ඒ බුදුරජාණන් වහන්සේ කතා කරන වචනය එක්තරා සීමාවක තියෙන්නෙ. ලෝකයාගේ වචන වල සීමාවක් නැනෙ. බුදුරජාණන් වහන්සේ සිදු නොවූ දෙයක්, අසත්‍ය දෙයක්, අනර්ථ දෙයක්, අන් අයට වැඩක් නැති දෙයක්, අප්‍රිය අමනාප දෙයක්, කවදාවත් කතා කරන් නෑ. සිදු වෙච්චි දෙයක් වුනත්, ඇත්ත දෙයක් වුනත්, අනර්ථය පිණිස පවතිනවා නම් මිනිස්සුත් අකමැතියි, කතා කරන් නෑ. සිදුවෙච්චි දෙයක් වුනත්, සත්‍ය දෙයක් වුනත් අර්ථවත් දෙයක්, නමුත් මිනිස්සු අප්‍රියයි අමනාපයි. ඒක බුදුරජාණන් වහන්සේ මිනිස්සු අප්‍රිය අමනාප වුනාට, සිදුවෙච්චි දෙයක් නම්, සත්‍ය දෙයක් නම්, අර්ථවත් දෙයක් නම්, කාලය දැනගෙන කතා කරනවා.

ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ සිදු නොවූ, අසත්‍ය, අනර්ථ සිදුනොවූ දෙයක් තියෙනවා, ඊළඟට අසත්‍ය දෙයක් තියෙනවා, අනර්ථ දෙයක් තියෙනවා, අන් අය ඒකට කැමැතියි, ඒත් බුදුරජාණන් වහන්සේ කතා කරන් නෑ. සිදුවූ සත්‍ය දෙයක් තියෙනවා අනර්ථයි අන් අය කැමැතියි ඒත් කතා කරන් නෑ. සිදු වූ සත්‍ය, අර්ථවත් දේවල් තියෙනවා අන් අය ප්‍රියමනාපයි, ඒත් බුදුරජාණන් වහන්සේ කතා කරන්නෙ කල්යල් බලලා. දැන් මේ වචන කතා කරන ක්‍රම හයක් බුදුරජාණන් වහන්සේ අභිරාජකුමාර සූත්‍රයේ දේශනා කරනවා. ඒකෙත් බුදුරජාණන් වහන්සේ කතා කරන්නෙ සිදුවෙච්ච් දෙයක් වෙන්නත් ඕන, සත්‍ය දෙයක් වෙන්නත් ඕන, අර්ථවත් දෙයක් වෙන්න ඕන. ඒක අන් අය ප්‍රිය වුනත් අප්‍රිය වුනත් කල්යල් බලලා. එතකොට බුදුරජාණන් වහන්සේගේ වචනයේ තියෙන එකක් තමයි කල්යල් බලලා කතා කරන්නෙ. ලෝකයාට අනුකම්පායි බුදුරජාණන් වහන්සේ. එතකොට වචනයේ තියෙන විශේෂ එකක් තමයි කල්යල් බලලා කතා කරන්නෙ. අනිවාර්යයෙන් සිදුවෙච්චි දෙයක්, අනිවාර්යයෙන් සත්‍ය දෙයක් අනිවාර්යයෙන් අර්ථවත් දෙයක් බුදුරජාණන් වහන්සේ කතා කරන්නෙ, වෙන කිසිම වචනයක් පන්සාලිස් වසක් පුරාවට කතා කරලා නෑ. යම් රාත්‍රියක ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ජයශ්‍රී මහා බෝසෙවණේ සම්මා සම්බුද්ධත්වයට පත්වෙනවාද, ඊළඟට බුදුරජාණන් වහන්සේ කුසිනාරාවේ පිරිනිවන් පානවද යම් රාත්‍රියක, අන්න ඒ යන්තේ භාසති ලපති නිද්දිසති සබ්බන්තං තතේ හෝති නොඅඤ්ඤතා, ඒ සියල්ලම ඒ ආකාරයකින් වෙන්නෙ අන් ආකාරයකින් සිද්ධ වෙන්නෙ නෑ. සොඳුරු වචන ඇති සේක. උන්වහන්සේ ගමන් කරන්නේ මෛත්‍රියෙන්. සුළඟට ගමන් කරන වළාවක් වගේ තියෙනවා කියනවා, කරුණාවෙන් ගමන් කරන මුණිඳුන් කියනවා මේ ලෝකෙ සිටින. බුදුරජාණන් වහන්සේ වළාවක් වගේ නම් ඒ වළාව ඈතට ගෙනියන් සුළඟ වගේ කියනවා මහා කරුණාව. උන්වහන්සේ පන්සාලිස් වසක් පුරාවට සිරිපා තැබුවේ ලෝකයට හිතසුව පිණිස. ඒ නිසා සොඳුරු ක්‍රියා ඇති, සොඳුරු වචන ඇති, සොඳුරු සිතිවිලි ඇති බුදුරජාණන් වහන්සේ. එතකොට මේ සුගත කියන ගුණය පින්වතුනි මූලික වශයෙන්ම යෙදෙන්නෙ සුන්දර නිවන් මාර්ගයේ ගමන් කරලා සුන්දර නිවනට පත්වුනා. ඒ අමාමහ නිවනේ රාගය නෑ. ද්වේෂය නෑ, මෝහය නෑ, දුක නෑ, සංතාපය නෑ, පීඩාව නෑ. බය නෑ, තැතිගැනීම නෑ, ශෝක පරිලාහ දුක්ඛ දෝමනස්ස මොනවත් නෑ. තෘෂ්ණාව ක්ෂය වීම අමා මහ නිවනයි. තණ්හක්කයෝහි රාග නිබ්බාණං, තණ්හාවේ ක්ෂය වීම තමයි රාග නිවන කියන්නෙ. ඒ සුන්දර

නිවනට පත්වුනාට පස්සෙ බය තැතිගැනීම් කුමක්වත් නෑ, ශෝක සංතාප පීඩා කඳුළු හැඬිලි වැළපිලි මොකවත් නෑ. ඒ අමා මහ නිවන ඒතං සන්තං ඒතං පණීතං, ඒක ශාන්තයි ප්‍රණීතයි. යදිදං සබ්බ සංකාර සමතෝ, සියලු සංස්කාරයන්ගේ සංසිඳීමයි. සබ්බූපති පටිනිස්සග්ගෝ, සියලු කෙලෙස් සහිත කර්ම සංසිඳී ගිය තැනයි. තණ්හක්කයෝ විරාගෝ නිබ්බාණං. තණ්හාව ක්ෂය වූ නොඇල්මෙන් යුතු වූ නිරුද්ධ වූ නිවනයි. ඒ නිසා පින්වතුනි ඒ සුන්දර ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගමන් කරලා සුන්දර නිවනට පත්වූ හෙයින් බුදුරජාණන් වහන්සේ සුගත වන සේක. නා නා වචන වලින්, නා නා සිද්ධි වලින්, නා නා ක්‍රමයෙන් ඔබත් සුගත ගුණය සිහිපත් කරන්න. මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ සොඳුරු ගමන් ඇති සේක. සොඳුරු වචන ඇති සේක. සොඳුරු සිතිවිලි ඇති සේක. සොඳුරු ජීවිත ඇති සේක. සොඳුරු බැල්මෙන් යුතු සේක. සොඳුරු වචන කතා කරන සේක. මහා කාරුණික වන සේක. මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන් සුගත වන සේක. සුගත වන සේක. සුගත වන සේක. අනේක ප්‍රකාරයෙන් සුගත ගුණය හිතන්න. ඔබට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතී. බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. ඔබගේ හිත සුන්දර වෙලා යයි. ඔබටත් මේ ගෞතම බුද්ධ ශාසනයේ පිහිට සැලසෙනවා. ඒ නිසා සුගත ගුණය හිතන්න. මේ ආදී වශයෙන් බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන් අරහං වන සේක. සම්මා සම්බුදධ වන සේක. විජ්ජාචරණ සම්පන්න වන සේක. සුගත වන සේක. යනකොට, හිඳිනකොට, නිදනකොට, ඇවිදිනකොට හැම මොහොතකම බුදුගුණම හිතන්න. ඒ නිසා ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සුගත ගුණයෙන් ඔබගේ ජීවිත සුවපත් වේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් පින්වතුනි අද දවසේ බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ගුණ ඇසෙන, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ කඩුවෙල භාවනා අසපුවට සම්බන්ධ සහ මාලබේ අමාවතුර මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ සැදැහැවත් පිරිසක් විසින්. ඉතින් මේ පින්වතුන් අද රැස් කරගත්ත, ඒ වගේම අපේ සම්බුදු සුගත ගුණය ගැන ශක්ති පමණින් ඔබට වචනයක් කියලා මේ හෝරාවකට අඩු කාලයක් තුළ ඔබත් ඒ ධර්මය ශ්‍රවණය කරලා, ඒ රැස් කරගත්ත අප්‍රමාණ පිනෙන් සෙත් ප්‍රාර්ථනා කරමු ලොව්තුරා අපගේ සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ සුගත ගුණය ඒකාන්තයෙන් සත්‍යයක්. ඒ සුගත ගුණයෙන් ලෝකය සැනසුනු බව සත්‍යයක්. ඒ සත්‍යානුභාවයෙන් මේ අපගේ මව්රටටත් ලෝකයටත් මේ පැතිර යන

වසංගතය දුරින්ම දුරු වේවා. අපේ මව් රට මේ ලෝකය ආරක්ෂා වේවා. ඒ වාගේම මානව වර්ගයාට සෙත් වේවා. සුගත ගුණයෙන් ලෝකෙට සෙත් වේවා, ආරක්ෂාව වේවා, නිදුක් නිරෝගී සුව වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරමු. සියලු පින් කැමැති දෙවියෝ මේ පින් අනුමෝදන් වී දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩාවර්ධනය වෙත්වා. පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වන දෙවියෝ මේ පින්වතුන් දැහැමින් රැකගනිත්වා කියලා අපි පින් පමුණුවනවා. අපවත් වී වදාළ පින්වත් හුංගම විමලානන්ද ස්වාමීන් වහන්සේට ඒකාන්තයෙන් මේ පින් අනුමෝදන් වේවා, අනුමෝදන් වේවා. මේ බුද්ධ ශාසනයෙන් මේ රැස් කරගත්තු පින් බලයෙන් ඒ ස්වාමීන් වහන්සේ පරලොව සත්පුරුෂ ඇසුරටම වේවා, සැනසිල්ලම වේවා, නිවනින් සැනසෙත්වා. මියපරලොව ගිය ලක්ෂ්මන් වනිගසේකර පියාණන්ට, ඒ වගේම එන්.එච්. ලොකුගේ මෑණියන්ට සහ සුසන්ත රණසිංහ පුතාට මේ පින් අනුමෝදන් වේවා, පරලොව සැපය වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පරම පූජනීය, ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර මහා සංඝරත්නයටත්, ඒ වගේම අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත්, මේ පින් බලයෙන් ගෞතම සසුනේ පිහිට ලැබේවා. ඒ වගේම පින්වතුනි අප විසින් මේ රැස් කරගන්නට යෙදුනා වූ අනන්ත අප්‍රමාණ පුණ්‍ය සම්භාරය ඒකාන්තයෙන් අනුමෝදන් වේවා ඒ කඩුවෙල මහමෙව්නා භාවනා අසපුවට සහ මාලබේ අමාවතුර මහමෙව්නා භාවනා අසපුවට සහසම්බන්ධ ඒ පින්වතුන් සියලු දෙනාට. ඒ වගේම ඒ ධර්ම දානයට සහසම්බන්ධ වුනු සියලු දෙනාට. ඔබ සියලුදෙනාට, මව්දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට ගුරුවරුන්ට පින්සිදු වේවා. ඒ වාගේම ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ කාර්යමණ්ඩලයේ සියලු දෙනාට, ඒ වාගේම මාධ්‍යය පවත්වාගෙන යන්නට උදව් උපකාර කරන සියලු දෙනාට පින්සිදු වේවා. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන්ම සුන්දර ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගමන් කොට, සුන්දර නිවනට පත් වූ බව සත්‍යයයි, සුගතයි. සොඳුරු වචන ඇති සේක. සොඳුරු කතා ඇති සේක. සොඳුරු විලාස ඇති සේක. සොඳුරු සිනිවිලි ඇති සේක. සොඳුරු සොබා ඇති සේක. ඒ සුගත වූ බුදුරජාණන් වහන්සේගේ අනන්ත අනුහසින්, උතුම් සම්බුදු සරණින්

සැනසෙත්වා. උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න මේ පින් හේතුවාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=EUMeHqNixIo&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=25

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන, මේ උතුම් දහම් වැඩසටහන සඳහා අද දායකත්වය දරන්නේ නො.128, පිරිවෙන පාර, බොරලැස්ගමුව ලිපිනයේ පදිංචි විජිතමුල්ල පවුලේ සියලු දෙනා විසින්. මියපරලොව ගිය ඥාතීන්ට පින් අනුමෝදන් කරන්නටත්, ඒ වගේම මැයි මස 24ට යෙදුනු උපන්දිනය අමරා වැලිගොඩපල මැණියන්ගේ, ඒ වගේම 27 වන දින උපන්දිනය යෙදෙන පද්මා විජිතමුල්ල මැණියන්ට නිදුක් නිරෝගී සුව ප්‍රාර්ථනා කරමින් විජිතමුල්ල පවුලේ සියලු දෙනා එකතු වෙලා අද ධර්ම දානය සිද්ධ කරනවා. මේ උතුම් ධර්ම දානය බොහෝ දෙනාට හිතසුව පිණිස පවතිනවා. පින්වතුනි එක බුදුගුණයක් නමුත් සිහි කර කර වාසය කිරීමෙන් බොහෝ යහපත සැලසෙනවා. ඒ වගේම විශේෂයෙන් පරණ ධර්මය ඉගෙන ගන්නට, අපි ඉස්සර ඉඳලම ධර්මය ඉගෙන ගත්තේ කියලා කතා කරන සමහර අයට කතා කරලා බැලුවට පස්සේ එයාලට බුදුගුණ අමතකයි. පංචුපාදානස්කන්ධාදී ධර්ම හොයන්න යනකොට බුදුගුණ අමතක වෙනවා. ඊළඟට අලුතෙන් ධර්මයට

සහසම්බන්ධ වුනු අය, ධර්මය ඉගෙන ගන්න අය ඉන්නවා. එයාලාට බුදුගුණ ඉගෙනගන්න අවස්ථාව, බුදුගුණ කියවෙන ධර්ම දේශනා එයාලට අහන්න සමහර වෙලාවට බැරිවෙන්න ඇති. ඉතින් ඒ සියලු දෙනාටත්, ඒ වගේම මේ නිවන් මාර්ගයේ ගමන් කිරීම පිණිස මූලික කාරණාව වන තිසරණ සරණ, සරණ කියන එක හරී යහපත් දෙයක්. සරණේ හොඳට පිහිටන්න පුලුවන් කෙනෙකුට ධර්මාවවාදයක් සැලසුනොත් ඒ ධර්මාවබෝධය එයාට හොඳට හිතේ පිහිටනවා. ඉතින් මේ කරුණු සළකලා බලලා මේ මනුස්සයෙකුට තිසරණ සරණ යන්න ලැබුනොත් ඒක සුවිශාල භාග්‍යයක්. ඒ ගැන සලකා බලලා පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ අපිව යොමුකලා මේ උතුම් දහම් වැඩසටහන සඳහා. ඉතින් පින්වතුනි ඒ නිසා ධර්ම දානය දෙන මේ පින්වතුන් සන්තෝෂයට පත්වෙන්න ඕන බොහෝ දෙව් මිනිස්සුන්ට යහපත පිණිසයි, මේ ධර්මය දානය, මේ ධර්ම ප්‍රචාරක කටයුතු සිද්ධ වෙන්නෙ. මේ ලෝකයේ කොතනක ඉඳලා හරි යම්කිසි කෙනෙක් ධර්මය අහනකොට මේ ධර්ම දාන දෙන පින්වතුන්ට ඒක විශාල පිනක් බවට පත්වෙනවා. ඉතින් පින්වතුනි, ලොව්තුරා තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේ වජිරාසනයේ සව් කෙලෙසුන් නසා ගයාවේ ජයසිරිමහා බෝ සෙවණේ, මේ තුන් ලෝකෙටම කෙළෙස් දුරු කරපු, මාරයා පරාජයට පත් කරපු, නිකෙලෙස් මහරහතන් වහන්සේ බවට  පත්වුනා. දෙව් මිනිසුන්ගේ සියලු පූජාවන්ට උන්වහන්සේ සුදුසු වුනා. ඒ පමණින් අකනිටා බ්‍රහ්මලෝකය දක්වාම මා සරණ ගිය බුදුරජාණන් වහන්සේ අරහං වන සේක කියලා බුදුරජාණන් වහන්සේගේ කීර්තිඝෝෂාව පැතිරුණා. එදා ගයාවේ වජිරාසනයේ ජයසිරි මහා බෝ සෙවණේ, ගුරු උපදේශ රහිතවම චතුරාර්ය සත්‍යය ධර්මයත් ඒ වගේම ඔබ යම් ධර්මයක් ඉගෙනගන්නවාද ඒ සියලුම ධර්මය ගුරු උපදේශ රහිතව ජයසිරි මහා බෝ සෙවණේ බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා. ස්වයංභූත්ඥාණයෙන්ම ධර්මය අවබෝධ කරපු නිසා, තුන්ලෝකයේම බුදුරජාණන් වහන්සේගේ බුද්ධ කීර්ති ඝෝෂාව පැතිරිලා ගියා අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි කියලා. උන්වහන්සේ තුළ අනන්ත විද්‍යාවක් තිබ්බා. අනන්ත ඥාණ සමුදායක්, අනන්ත ගුණ සමුදායක්. ඉතින් අනන්ත ඥාණයන්ට අනුව, අනන්ත විද්‍යාවන්ට අනුව, අනන්ත අවබෝධයට අනුවමයි උන්වහන්සේගේ ජීවිතයම ගතවෙන්නෙ. බුදුරජාණන් වහන්සේට තමයි තුන්ලෝකෙම විජ්ජාචරණ සම්පන්න උත්තමයා කියලා කියන්නෙ. අවබෝධයත්, අවබෝධයට අනුව හැසිරීමත්. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ

සම්පූර්ණ සම්බුදු දිවියම සුගතයි. සුන්දර වූ නිවන් මාර්ගය නම් වූ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගමන් කරලා සුන්දර අමා මහ නිවනට පත්වුනා. සොදුරු ගමන් ඇති, සොදුරු කතා විලාස ඇති, සොදුරු සිහිවිලි ඇති සුන්දර ජීවිතයක් බුදුරජාණන් වහන්සේට තිබුනා. දෙවිමිනිසුන් අතර සුගතයි කියලා බුදුරජාණන් වහන්සේට අපමණ බුදුගුණ ගීතය ඇසුනා. බුදුරජාණන් වහන්සේ අවබෝධ නොකරපු ලෝකයක් නෑ, සියලූම ලෝක බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා. ඒ කිසිම ලෝකයකට බුදුරජාණන් වහන්සේ ඇලුන් නෑ, ගැටුන් නෑ, ආස කලේ නෑ. ඒ සියලු ලෝක වලින් බුදුරජාණන් වහන්සේ නිදහස් වුනා. බුදුරජාණන් වහන්සේගේ මේ උතුම් බුදුගුණ කඳ දෙව් මිනිසුන් අතර ප්‍රකට වුනා. අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ ලෝකවිදූ වන සේක කියලා. අපි සරණ ගිය සම්මා සම්බුදුරජාණන් වහන්සේ පින්වත්නි, අනුත්තර පුරිසධම්ම සාරථී වන සේක. අනුත්තර පුරිසධම්ම සාරථී කියලා කියන්නේ අනුත්තර කියන්නෙ ශ්‍රේෂ්ටයි, ආයෙ එතනින් එහාට කෙනෙක් නෑ, අනුත්තරීයයි, තවත් කෙනෙක් නෑ කියන එක, අනුන්තර. එතකොට කුමකටද අනුත්තර? පුරිසධ්මම සාරථී. පුරුෂයන් දමනය කිරීමේ ලා තවත් කෙනෙක් නෑ බුදුරජාණන් වහන්සේ තරම්. බුදුරජාණන් වහන්සේ - පුරුෂයන් කියලා කියන්නේ දෙව්, මිනිසුන්. දමනය කරන්න, දමනය වීමේ වාසනාව තියෙනවා නම් දමනය වීමේ ස්වභාවය තියෙනවා නම් එයා දෙවියෙක් අතර හෝ වේවා, මිනිසුන් අතර හෝ වේවා, ඒ බුදු නෙතට යොමුවුනොත් ඔහු දමනය වෙනවා. ඒ නිසා තමයි බුදුරජාණන් වහන්සේට අනුත්තර පුරිසධම්මසාරථී කියලා කියන්නෙ. බුදුරජාණන් වහන්සේගේ ඒ ශ්‍රාවකයො දමනය වෙන දමනය විල්ල පින්වතුනි සමහර වෙලාවට අර අජාසත්ත, ජීවක අඹවනයට යනකොට එක්දහස් දෙසිය පනහක් සංඝයාත් එක්ක භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්නේ කොළයක් බිමට වැටෙන හඬ ඇහෙනවා. එච්චර නිහඬයි. ශාස්තෘන් වහන්සේ දහම් දෙසද්දි කිවිසුමක්වත් යවන් නෑ කෙනෙක්. එච්චර නිහඬයි. එච්චර දමනය වෙලා. එච්චර සන්සුන් වෙලා, ශාස්තෘන් වහන්සේට. උන්වහන්සේ සිහනද පතුරවද්දී මුලු ලෝකයම නිහඬ වෙනවා. අනුත්තර පුරිසධම්මසාරථී මගේ බුදුරජාණන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ කෙනෙක් දමනය කරනවා ඍද්ධි ප්‍රාතිහාර්ය ඤාණයෙන්. බුදුරජාණන් වහන්සේ කෙනෙක් දමනය කරනවා ආදේශනාප්‍රාතිහාර්ය ඤාණයෙන්. බුදුරජාණන් වහන්සේ කෙනෙක් දමනය කරනවා අවවාදප්‍රාතිහාර්ය ඤාණයෙන්. ඇත්තටම කෙනෙක් දමනය කිරීම කියන්නෙ ප්‍රාතිහාර්යයක්. ඒ ප්‍රාතිහාර්ය බුදුරජාණන් වහන්සේ දක්වන්නේ

එක්කො සෘද්ධියකින්, ඒකට තමයි සෘද්ධිවිධ ඤාණය කියලා, දැන් අපි කියමුකෝ අංගුලිමාල දමනය කරනකොට බුදුරජාණන් වහන්සේ සෘද්ධියක් පෑවා අංගුලිමාල භාග්‍යවතුන් වහන්සේට ළංනොවීම පිණිස. එතකොට තුන්යොදුන් දුර ගියා බුදුරජාණන් වහන්සේත් අංගුලිමාලයන් අතරත්, වළවල් මැවෙනවා, කඳු මැවෙනවා, උස්පහත්කම් මැවෙනවා, බුදුරජාණන් වහන්සේට සුලු දුරක් පා ගමනින් වඩින්න තියෙන්නෙ, අංගුලිමාලට යොදුන් තුනක් දුවන්න තියෙනවා. ඒක සෘද්ධියක් බුදුරජාණන් වහන්සේ කරපු. එතකොට සෘද්ධියෙන් දමනය කරනවා. එතකොට දමනය කිරීමේ ලා සෘද්ධිය උපකාර කරගන්නවා. එතකොට දමනය කරන්න බුදුරජාණන් වහන්සේ කෙනෙක්ව දමනය කරන්න භාවිතා කරනවා ආදේශනා ප්‍රාතිහාර්යය. ආදේශනා ප්‍රාතිහාර්යය කියන්නෙ හිත බල බලා ඔහුව දමනය කරනවා. මෙයාගේ හිතේ ස්වභාවයට අනුව මේ ධර්මය සුදුසුයි, මෙයාගේ හිතේ ස්වභාවයට අනුව මෙන්න මේ ක්‍රමය සුදුසුයි, කියලා හිත බලලා ඔහුව දමනය කරනවා. දැන් උදාහරණයක් ගත්තොත් අර මාන්නත්තද්දගේ කතාව. බුදුරජාණන් වහන්සේගේ කාලයේ එක්තරා බ්‍රාහ්මණයෙක් හිටියා මේ බමුණා මව්පියන්ට වඳින් නෑ, සහෝදර සහෝදරියන්ට වඳින් නෑ, කාටවත් වඳින් නෑ, ඉහළින් ඉන්නෙ. මෙයාට ඉහළින් කපුටෙක්වත් පියාඹන්නෑ කියන අදහසින් මෙයා හිතාගෙන ඉන්නෙ. එහෙම ඉන්නකොට මෙයා දැක්කා ගමේ මිනිස්සු ඔක්කෝම එකම දිශාවකට යනවා. මෙයා ඉතින් ලොක්කා වගේ කෑ ගහලා කිව්වා ඒයි උඹලා කොහේද යන්නෙ? කියනවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ වැඩලා. උන්වහන්සේ අනන්ත අපරිමාණ ගුණ සමුදායෙන් යුක්තයි, ඒ වාගේ රහතන් වහන්සේලා දැකගන්න ලැබීමත් දුර්ලභයි, උන්වහන්සේගේ මුවමඩල බලලා සිතේ දුක් ගිනි නිවාගෙන සිරිපා කමල ළඟ සරණ යන්න මේ යන්නෙ. ඊටපස්සෙ කිව්වා, එහෙනම් හිටපියව් මාත් එනවා. දැන් කල්පනා කලා මං ගිය ගමන් මන් මේ ප්‍රදේශයේම බ්‍රාහ්මණයෙක්, ඉතින් ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මාත් එක්ක කතා කරාවි. මං එතකොට වචනයක් දෙකක් කියනවා. මං ඕනවට වැඩිය කතාවට යන්නෑ එයත් එක්ක. කියලා දැන් මෙයා ලස්සන ප්ලෑන් එකක් හිතේ ගහගෙන යනවා. භාග්‍යවතුන් වහන්සේ දහම් දෙසනවා. ඉතින් මෙයා දුර ඉඳලම හිතුවා මම ඔය ගිහිල්ලා කතාවට යන්නෑ, මාත් එක්ක කතා කලොත් මං වචනයක් කතා කරනවා, මං මොකටද එක එක්කෙනත් එක්ක කතාවට යන්නෙ. දැන් මෙයා ලොකු ප්ලෑන් එකක් ගහගෙන යනවා. දැන් බුදුරජාණන් වහන්සේට හිත පේනවානෙ. බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරනවා.

අර ඔය මේ මැත මාන්නත්තද්ද බ්‍රාහ්මණයා ඉන්නවා, භාග්‍යවතුන් වහන්සේ ඒ දිශාව බලන්නෙවත් නෑ. කතා කරන්නෙවත් නෑ, අනිත් පිරිස අරමුණු කරගෙන දහම් දෙසුවා. දැන් හිටියා, හිටියා, හිටියා, ඊටපස්සෙ බලන්නෙවත් නෑනෙ. ඊටපස්සෙ මෙයාගෙන් ඇති වැඩක් නෑ, මං යනවා යන්න කියලා හැරිලා ගියා. හැරෙනකොටම බුදුරජාණන් වහන්සේ ඇහුවා, මාන්නත්තද්ද දැන් ඔය ආපු වැඩේ කරගෙනද යන්නෙ කියලා ඇහුවා. ඊටපස්සෙ මෙයාට අනේ ශ්‍රමණ භවත් ගෞතම තථාගතයන් වහන්සේ මාගේ සිත දැක්කානේ කියලා එකපාරටම ගිහිල්ලා බුදුරජාණන් වහන්සේගේ සිරිපා ළඟ දණ්ඩ නමස්කාර කලා. බඩගාලා වැඳලා සිරිපා ඉඹිනවා. මමයි මාන්නත්තද්ද, මමයි මාන්නත්තද්ද කියලා. මිනිස්සු කම්මුලේ අත තියාගත්තා, අච්චරියං වතබෝ, අද්භූතං වතබෝ. ආශ්චර්යයි, අද්භූතයි, මවට වඳින්නේ නැති, පියාට වඳින්නෙ නැති, වැඩිහිටි එක්කෙනෙකුට වඳින්නෙ නැති ශ්‍රමණ බ්‍රාහ්මණයෙකුට ගරු කරන්නෙ නැති මේ මාන්නත්තද්ද තථාගත බුදුරජාණන් වහන්සේ ළඟ වැඳ වැටුනානේ කියලා පුදුම වුනා කියනවා මිනිස්සු. ඊටපස්සෙ ඒ බුදුරජාණන් වහන්සේ දේශනා කරපු ධර්මය අහලා ඒ මාන්නත්තද්ද බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පිළිසරණ ලැබුවා. දිවිහිමියෙන් බුදුරජාණන් වහන්සේ සරණ ගියා. ධර්මයේ සරණ ගියා. ආර්ය මහා සංඝරත්නයේ සරණ ගියා. එතකොට බුදුරජාණන් වහන්සේ ඔහුව දමනය කිරීමට, බුදුරජාණන් වහන්සේ උපයෝගී කරගත්ත ක්‍රමයක් තමයි සිත බැලීම. හිත බල බලා ඔහුව දමනය කරන එකට තමයි කියන්නෙ ආදේශනා ප්‍රාතිහාර්ය. ඍද්ධි ප්‍රාතිහාර්ය, ආදේශනා ප්‍රාතිහාර්ය, අවවාද ප්‍රාතිහාර්ය. අවවාද ප්‍රාතිහාර්ය තමයි පින්වතුනි සුවාසූදහසක් වූ ධර්මස්කන්ධයේ තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ මේ කුසල් මේ වඩන්න, මේ අකුසල් මේ බැහැර කරන්න. මෙන්න මේ ධර්මය අවබෝධ කරන්න. මේ ධර්මය විමසන්න කියලා දහම් අවවාද දෙනවා. ඒ දහම් අවවාද අනුව හික්මෙන ශ්‍රාවකයා ඒ ධර්මයට දමනය වෙනවා. එතකොට මේ ඍද්ධි ප්‍රාතිහාර්යය, ආදේශනා ප්‍රාතිහාර්ය, අවවාද ප්‍රාතිහාර්ය කියන ප්‍රාතිහාර්යෙන් බුදුරජාණන් වහන්සේ පන්සාලිස් වසක් පුරාවටම අනුගමනය කලේ අවවාද ප්‍රාතිහාර්යය. සීල, සමාධි, ප්‍රඥා වශයෙන් දේශනා කරන මේ උතුම් ශ්‍රී සද්ධර්මය. ආර්ය අෂ්ටාංගික මාර්ගය විස්තර කරමින් කරන ශ්‍රී සද්ධර්මය. චතුරාර්ය සත්‍යය ධර්මය විස්තර කරමින් විස්තර කරන ශ්‍රී සද්ධර්මය. ඒ ධර්මය අහලා උන්වහන්සේ ළඟ යම්කිසි කෙනෙක් පැවිදි වෙනවාද, ඊළඟට ගුණධර්ම පුරුදු කරනවාද, ශ්‍රාවකත්වයට පත්වෙනවාද, මේ සියලුදෙනාම බුදුරජාණන් වහන්සේගේ අවවාද

ප්‍රාතිහාර්යයට දමනය වූ අය. එතකොට අදටත්, අපි මේ පැවිදි වුනෙත් බුදුරජාණන් වහන්සේට දමනය වෙලා. ඊළඟට ඔබ ශ්‍රාවකයෙක් වුනෙත් බුදුරජාණන් වහන්සේට දමනය වෙලා. එතකොට මේ අද දක්වාම මේ බුද්ධ ශාසනයේ, ඇයි සුලුපටු දමනයක්ද පින්වතුනි සම්පූර්ණයෙන් මුලු ජීවිතේ, භික්ෂුවක් ගත්තොත් මුළු ජීවිතේම කැප කරනවානෙ බුදුරජාණන් වහන්සේ වෙනුවෙන්. ඇයි රැකී රක්ෂා තියෙනවා, දරුමල්ලන්ගේ කටයුතු තියෙනවා, ඒ ඔක්කෝම තියෙද්දීත්, මිල මුදල් හම්බකරගැනීම්, ඒ ඔක්කෝම අතහැරලා මුළු ජීවිතේම බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් කසාවතක් දරාගෙන ඉන්නවා කියන එක, ඒක දමනයක් නෙවෙයිද. උන්වහන්සේ දේශනා කරන සිල්පද වල හික්මෙනවා කියන එක දමනයක් නෙවෙයිද. උන්වහන්සේ වදාළ භාවනා ක්‍රම පුරුදු කරනවා කියලා කියන්නෙ දමනයක් නෙවෙයිද. උන්වහන්සේ ලෝකෙ දිහා බලන්න කියපු විදියට ශ්‍රාවකයා ලෝකෙ දිහා බලනවා කියන්නෙ දමනය වෙලා නැත්ද. ඒක තමයි දමනය වීම. අදටත් බුදුරජාණන් වහන්සේගේ ආදේශනා ප්‍රාතිහාර්යය, අනුත්තරෝ පුරිසධම්මසාරථී ගුණය අදටත් බැබලි බැබලි යනවා. එහි ආනුභාවය අදටත් විහිදිලා තියෙනවා. අනාගතේටත් මේ බුද්ධ ශාසනේ තියෙන්නෙ බුදුරජාණන් වහන්සේගේ ඒ අනුත්තර පුරිසදම්ම සාරථී ගුණ බල මහිමයෙන්. ඉතින් ඒ නිසා පින්වතුනි, මොකද මේ මිනිස්සු දමනය කරන, දෙව් මිනිසුන් දමනය කරනවා, විශේෂයෙන් මේ මිනිස්සු දමනය කරනවා කියන එක පින්වතුනි ලේසි දෙයක් නෙවෙයි. ඒකයි මේ අර කන්දරක සූත්‍රයේ පෙස්ස කියන්නේ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මේ මම සතුන් දමනය කරන කෙනෙක් ඇත්තු, අශ්වයෝ ආදී. භාග්‍යවතුන් වහන්සේ දමනය කරන්නේ මිනිස්සු. ඉතින් අපි දැකලා තියෙනවා මිනිස්සු මනාව දමනය වෙනවා භාග්‍යවතුන් වහන්සේට. මට පුදුම හිතෙනවා ස්වාමීනී මේ මිනිස්සු දමනය කරන්නෙ කොහොමද කියලා. හේතුව මේ මිනිස්සු, බුදුරජාණන් වහන්සේට කියනවා, ගහණං හේතං භන්තේ යදිදං මනුස්සා, මේ මිනිස්සු ගහණයි, ගුප්තයි. මේ මිනිස්සු කියන්නෙ එකක්. කරන්නෙ එකක්. උත්තානගතං හේතං යදිදං පසෝ, ඒ වුනාට සතා සීපාවා තමන්ගේ අභ්‍යන්තරය ප්‍රකට කරනවා. බඩගිනි නම් බඩගිනි බව, නිදිමත නම් නිදමත බව, කම්මැලි නම් කම්මැලි බව, පුලුවන් නම් පුලුවන් බව, බැරි නම් බැරි බව ඒ සතාගෙන්ම ප්‍රකට වෙනවා. ඒ වුනාට ස්වාමීනී මේ මිනිස්සු, බැරි දේවල් පුලුවන් විදියට ඉන්නවා. පුලුවන් දේවල් බැරි විදියට ඉන්නවා. ඊළඟට බැරි එක ඔව් කියනවා. ඔව් කියපු එක පස්සෙ නෑ කියනවා. මේ මිනිස්සු පුදුම විදියට වංචනිකයිනෙ. කපටියිනෙ.

කට්ටකෙරාටිකයිනෙ. මනුස්සයාගෙ සැබෑ ස්වභාවය අවුරුදු ගාණක් ගියත් හොයාගන්න අමාරුයිනෙ. එහෙම මිනිස්සු බුදුරජාණන් වහන්සේ දමනය කරනවා කියලා යමක් ඇත්ද, ඒකාන්තයෙන් ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස තථාගතයන් වහන්සේ ආශ්චර්යයීයි අද්භූතයි කිව්වා. පින්වතුනි දැන් මේක බලන්න, මේ ලංකාව ධර්මද්වීපය වෙලා, රුවන්වැලි මහාසෑය, ජයසිරිමහා බෝධීණ් වහන්සේ, දළදා වහන්සේ වගේ වෙහෙර විහාරත්, බෝධීන් වහන්සේලාත් ඉතිරී පැතිරිලා තිබිලා, භික්ෂූන් වහන්සේලාත් ඉඳලා, පැරණි පොත්පත් තිබිලා, ත්‍රිපිටකය තිබිලා, මේ ඔක්කොමත් තිබිලා, බුදුබණ ටිකක් අසාගෙන යනකොට මේ ලෝකෙ තියෙන කරදර ටික බලන්න. කීදෙනෙක්ගෙන් කරදර එනවද කියලා බලන්න. එහෙව් එකේ ආශ්චර්යයී නැතිද, අද්භූත නැතිද මේ බුද්ධ කියන වචනය වත් අහලා නැති ලෝකයට තිසරණය කියන වචනෙවත් අහලා නැති ලෝකයට, ධර්මය කියන වචනය වත් අහලා නැති, දහම් කාරණා අහලා නැති ලෝකෙට හාහාපුරා කියලා බුදුරජාණන් වහන්සේම ධර්මය දේශනා කර කර යනකොට මේ සත්ත්වයා දමනය වෙච්චි හැටි පුදුම නැත්ද. ඒ සියල්ල බුදුරජාණන් වහන්සේට කළ හැකියි. ඒ ගුණයට කියනවා අනුත්තර පුරිසදම්මසාරථී. බුදුරජාණන් වහන්සේ ලෝකයේ සත්ත්වයන් දමනය වීම පිණිස පිං ඇති, දමනය කළ යුතු පුද්ගලයන් දමනය කරන අනුත්තර පුරිසධම්මසාරථී වූ බුදුරජාණන් වහන්සේ. ඊටපස්සෙ ඒ බුදුරජාණන් වහන්සේට සත්ත්වයා දමනය කරන්නේ කොහොමද කියන ක්‍රමය එනවා. දැන් බලන්න අංගුලිමාල දමනය කරපු විදියට නෙවෙයි, නාලාගිරි දමනය කලේ. පින්වතුනි නාලාගිරි හස්තියා මෛත්‍රියෙන් බුදුරජාණන් වහන්සේ දමනය කලේ. මිහිරි වචනයෙන් දමනය කලේ. බුදුරජාණන් වහන්සේගේ මිහිරි වචනය සුගත ගුණයෙන් බබළනවානෙ. මිහිරි වචනයේ ආනුභාවයට ඒ සත්ත්වයාගේ, නාලාගිරි, ධනපාල ඇතාගේ වෙරි හිඳුනා කියනවා මිහිරි වචනයට. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ මෛත්‍රියේ ආනුභාවයට නාලාගිරිගේ වෙරි හිඳුනා කියනවා. එතකොට නාලාගිරි නම් වූ තිරිසන් සතාගේ පටන් ඊළඟට බුදුරජාණන් වහන්සේ අංගුලිමාල ආදී මිනිසුන්ගේ පටන් ඊළඟට දමනය විය නොහැකි දෙවිවරුන්ගේ පටන්. බක නම් බ්‍රහ්මයා දක්වාම, බ්‍රහ්ම ලෝකය දක්වාම සත්ත්වයන් දමනය කරනවා. බුදුරජාණන් වහන්සේ සත්ත්වයා දමනය කරනවා. දැන් බක නම් බ්‍රහ්මයාට ඇතිවුනා අදහසක් මේ නිත්‍ය බ්‍රහ්ම ලෝකෙ. ඒ බ්‍රහ්ම ලෝකෙට කාටවත් ලේසියන් එන්න බෑ. මොකද ඒ බක නම් බ්‍රහ්මයා හිටපු බ්‍රහ්ම ලෝකයේම, ඒ බ්‍රහ්ම පිරිස අතර ඉඳලා

තියෙන්නෙ හැත්තෑදෙන්නයි. හැත්තෑ දෙන්නෙක්. ඒ හැත්තෑ දෙන්නා තමයි ඒ ලෝකෙ ඉන්න මහානුභාවසම්පන්න වෙලා. ඉතින් බක නම් බ්‍රහ්මයාට දීර්ඝායුෂ තියෙන නිසා, කල්ප ගණන් ආයුෂ තියෙන නිසා, ඒ බක නම් බ්‍රහ්මයා හිතුවා ස්ථිර නිත්‍ය තැන තමයි මේ බ්‍රහ්ම ලෝකෙ. නිවන කියලා කියන්නෙ බ්‍රහ්ම ලෝකෙට කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ දිවැසින් දැක්කානෙ. එතකොට බ්‍රහ්ම ලෝකයේ ඉඳලා විශාල ගලක් පොළොවට අතෑරියොත් මාස හතරක් යනවානම් වැටෙන්න, දිවා රාත්‍රී, ඇයි මග නැවතිලා ඉන්නවෑ - දිවා රාත්‍රී, එහෙම මහා පර්වතයක් වැටෙන්න එච්චර වෙලාවක් යනවානම්, මාස 4ක්, කොච්චර දුරද. එතකොට එච්චර දුරක බ්‍රහ්මයෙක් හිතන දේ සැවැත් නුවර වැඩ ඉන්න බුදුරජාණන් වහන්සේ, එහෙම නැත්නම් මේ පෘථිවියේ වැඩ ඉන්න බුදුරජාණන් වහන්සේ දකිනවානෙ. ඒ වෙලාවෙම අතුරුදහන් වෙලා බ්‍රහ්මයා ඉදිරියේ පහළ වුනා. බ්‍රහ්මයා කිව්වා ආනේ මෙන්න ආයෙත් දිව්‍ය පුත්‍රයෙක් ඉපදලා. වඩින්න, වඩින්න, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස මෙතනනෙ නිවන තියෙන්නෙ කියලා. මේකනේ ස්ථිර තැන. බ්‍රහ්මය නුඹට වැරදුනා. නුඹට වැරදුනා මේක ස්ථිර නෑ. අනිත්‍යයයි. ඊළඟට අස්ථිරයි. මෙතන අස්වැසිල්ලක් නෑ මෙතන අනස්සාසිකයි. ඉතින් ඒ බ්‍රහ්මයා බුදුරජාණන් වහන්සේට අභියෝග කරනවා. එහෙම කියන්න එපා. ඊටපස්සෙ ඒ වෙලාවෙ මාරයා වැහෙනවා බ්‍රහ්මයෙක්ගේ ශරීරයට. එතකොට බලන්න එයාගෙ බලවේගය, බ්‍රහ්මයෙකුට පවා වැහෙනවා. ඊටපස්සෙ බ්‍රහ්මයාට වැහිලා කියනවා ශ්‍රමණ භවත් ගෞතමයිනි, පහදින්න මේ බ්‍රහ්මයා කියන දේට. මෙයා කියන එක ඇත්ත. මෙයාගේ ඇඟිලි දහයෙන් සක්වල වල් දහයක් ආලෝක කරන්න පුලුවන්. මහා ආනුභාවසම්පන්න කෙනෙක්. මෙයා තමයි අභිභූ කියන්නේ. මෙයාට තමයි වසවර්ති කියන්නෙ. මෙයා තමයි ලෝකයම වසඟයේ තියාගෙන ඉන්නෙ කිව්වා මේ බ්‍රහ්මයා. කියන දේ පොඩ්ඩක් අහන්න කියලා කිව්වා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ කිව්වා එම්බා මාරය, උඹත් එක්ක කතාවක් නෑ, මේක මේ ලෝකෙ යම්කිසි සංස්කාරයක් හටගත්තා නම්, ඒ සියලු සංස්කාරයෝ අනිත්‍ය වෙලා යනවා කියලා බුදුරජාණන් වහන්සේ නොයෙක් ආකාරයෙන් දහම් දෙසුවා. ඊටපස්සෙ බක නම් බ්‍රහ්මයා කියා සිටිනවා, ස්වාමීනී භාග්‍යවතුන්වහන්ස, මං මේ ඇත්තටම නිත්‍ය දෙයක්නේ නිත්‍යයි කිව්වෙ. ස්ථිර දෙයක්නෙ ස්ථිරයි කිව්වෙ. ඊළඟට අප්‍රමාණ සැපක් තියෙන තැනක්නෙ නිවන කිව්වෙ. මොකක්ද තියෙන දෙයක්ම තියෙන විදියට කිව්වාම ඇති වැරැද්ද මොකක්ද. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, බ්‍රහ්මය,

නුඹට වැරදුනා. ඒ තමයි ඔබට දීර්ඝායුෂ ඇතිව හිටපු කෙනෙක්. ඒ නිසා ඔබට පේන්නෑ මේකෙ අග මුල. ඒකයි මෙතන වෙලා තියෙන්නෙ. ඒ වුනාට බ්‍රහ්මය මට නම් නුඹ කලින් කොහෙද හිටියේ කියලත් මට කියන්න පුලුවන්. බ්‍රහ්මය, නුඹ ඊළඟට යන්නෙ කොහෙද කියලා කියන්නත් පුලුවන්. ඒ වගේම බ්‍රහ්මය නුඹ ඔය වාගේ වෙන්න කරපු පින් ටික මට කියන්නත් පුලුවන් කිව්වා. බුදුරජාණන් වහන්සේගෙන් අහනවා බ්‍රහ්මයා, ආ එහෙනම් කියන්න බලන්න. බුදුරජාණන් වහන්සේ දේශනා කලා ඔබ මේ ලෝකෙට එන්න කලින් අහවල් බ්‍රහ්ම ලෝකෙ හිටියෙ. ඒ වගේම ඔබ මෙතනින් මැරිලා අහවල් බ්‍රහ්ම ලෝකෙට ආපහු යන්නෙ. ඊටපස්සෙ ඔබට මෙච්චර ආයුෂ තියෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා බ්‍රහ්මය ඔබ මෙච්චර ආනුභාවසම්පන්න වුනේ, ඔබ බ්‍රහ්ම ලෝකෙ ඉපදුනේ සමාධියත් එක්ක. ආනුභාව සම්පන්න වුනේ මෙච්චර වතුර නැති මිනිස්සුන්ට සංසාරේ වතුර දීලා. ඔබ ඒ කාලෙ තාපසයෙක් වෙලා ඉදලා, තාපසාරාමයේ නිල් කැට වතුර තියෙන දොළට, ගංගාවට ගියා. ඒ ගංගාවෙ නිල් කැට වතුර ගලාගෙන යනවා. හරිම පිරිසිදුයි. ඊටපස්සෙ හිතුනා මේ වාගේ වතුරක්, මේ වාගේ පිරිසිදු දිය දහරක්, අනේ මට විතරයිනේ, මේ වගේ දිය දහරක් නොලබන සත්තු ඉන්නවාද කියලා දිවැසින් බැලුවා. බලනකොට පේනවා කාන්තාරෙක මිනිස්සු වතුර ටිකක් නැතිව වැටිලා ඉන්නවා වෙළඳාමේ ගිහිල්ලා. ඊටපස්සෙ ඔබගේ ඍද්ධියෙන් මේ ගඟ දෙකඩ වෙලා එක වතුර කොට්ඨාශයක් ගඟේ යන විදියටත්, අනෙක් වතුර කොට්ඨාශය කාන්තාරයට යන විදියටත් ඍද්ධියක් කලා. අර කාන්තාරෙ මැදින් අර ගංගාවේ වතුර ටික ගලනවා මිනිස්සු මැදින්. මිනිස්සු නාලා ගොඩාක් සුඛිත මුදිත වුනා. ආන්න ඒ පින ඔබට තියෙනවා. ඒ පින් බලේට ඔබ ඔච්චර ආනුභාවසම්පන්න. ඊටපස්සෙ ඔබ තවත් ජීවිතයක තාපසයෙක් වෙලා ඉදලා ගඟක සිංදු කිය කියා මිනිස්සු සතුටින් යනකොට ඒ ගඟේ නාගයා කිපිලා ඒ මිනිස්සු බය කරා අර නැවේ හිටපු මිනිස්සු, විශාල ගඟේ. ගංගා නම් ගඟේ. ඒ මිනිස්සු බය වෙලා කෑ ගහනකොට එතනම තාපාසාරාමයේ හිටපු ඔබ භාවනාවෙන් ඒ මිනිස්සුන්ට භය නැති කරන්න ඕන කියලා ගුරුලෙක්ගේ වේශයක් මවාගෙන ගිහිල්ලා නාගයා පලවාහැරලා ඒ මිනිස්සුන්ට අභය දුන්නා. ඒ පින තියෙනවා කිව්වා නුඹට. මේ විදියට කරුණු කාරණා කියලා මේ පින කලා, මේ පින කලා කියලා පින් ටික ඔක්කෝම කිව්වා. ඊටපස්සෙ බක නම් බ්‍රහ්මයා කල්පනා කලා දැන් නම් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ සමඟ කතා කරන්න බෑ, උන්වහන්සේට හැමදේම පේනවා. දැන් මගේ ඍද්ධි තේජස

පෙන්නන්න ඕන. එම්බා ශ්‍රමණය, මම දැන් මෙතනින් නොපෙනී යනවා, නුඹ බලන්න කියලා කිව්වා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඍද්ධියක් කලා, බක බ්‍රහ්මයාගේ ඒ ඍද්ධිය වැඩ කරන්න එපා කියලා. දැන් අර බක බ්‍රහ්මයා මං අතුරුදහන් වේවා. අතුරුදහන් වේවා, අතුරුදහන් වේවා කියනවා, අතුරුදහන් වෙන් නෑ. බුදුරජාණන් වහන්සේ වදාළා ඔය ඉන්නෙ කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා, එහෙනම් බ්‍රහ්මය, බලන්න මම අතුරුදහන් වෙනවා දැන්. ඊටපස්සෙ බක බ්‍රහ්මයා අධිෂ්ටාන කලා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේට අතුරුදහන් වෙන්න බැරි වේවා කියලා. අනේ බුදුරජාණන් වහන්සේගේ ඍද්ධිය සුලුදෙයක්ද, බුදුරජාණන් වහන්සේගේ ඍද්ධිය. පින්වතුනි රහතන් වහන්සේලා සියලුදෙනාම තමන්ගේ ඍද්ධියෙන් මිහිමඬල සෙලෙව්වොත් ඒක මුගලන් මහරහතන් වහන්සේගේ ඍද්ධියෙන් නවත්වන්න පුලුවන්. මුගලන් මහරහතන් වහන්සේ වගේ දාහක් රහතන් වහන්සේලා ඍද්ධි ප්‍රාතිහාර්යය දක්වද්දි පසේ බුදුරජාණන් වහන්සේ නමකට නවත්වන්න පුලුවන්. පසේ බුදුරජාණන් වහන්සේලා මේ පෘථිවිය පුරාම ඉඳලා, දණින් දණ ගෑවෙන මට්ටමට පසේ බුදුරජාණන් වහන්සේලා පෘථිවිය පුරාවටම ඉඳලා ඍද්ධි ප්‍රාතිහාර්යය දක්වනවා, ඒක බුදුරජාණන් වහන්සේටෙ තත්පරේට නතර කරන්න පුලුවන්. එච්චර ඍද්ධියක් බුදුරජාණන් වහන්සේගෙ. ඉතින් ඒ ඍද්ධියට මේ බක නම් බ්‍රහ්මයා කව්ද. බුදුරජාණන් වහන්සේ අතුරුදහන් වුනා. අතුරුදහන් වෙනවා බ්‍රහ්මයාට බ්‍රහ්ම ඇසින්, ඔහු වසවර්තීනේ, ඔහුට මේ පෘථිවියේ දිව්‍යලෝක ඔක්කෝගෙම ඉන්න අය පේනවා. ඒ බක නම් බ්‍රහ්මයාට බුදුරජාණන් වහන්සේ ඉන්න තැනක් පේන් නෑ. බුදුරජාණන් වහන්සේ ගාථාවක් දේශනා කරනවා, විඤ්ඤාණං අනිදස්සනං, අන්දර්ශන විඤ්ඤාණය ගැන. ඒ බක නම් බ්‍රහ්මයාට කොහේ ඉඳලද මේ කියන්නෙ කියලා හොයාගන්නවත් බෑ, දිවැසින් කියන්නෙ. බුදුරජාණන් වහන්සේ සංවේගයට පත් කලා බක නම් බ්‍රහ්මයාව. ඊටපස්සෙ බ්‍රහ්මයෝ සලිත කලා අනිත්‍යය ධර්ම දේශනාව කරලා. එතනින් අතුරුදහන් වෙලා භාග්‍යවතුන් වහන්සේ වැඩම කළා. දමනය වුනානෙ. ඍද්ධියත්, අනුශාසනාවත්, ආදේශනාවත්, බ්‍රහ්මයා බ්‍රහ්ම ලෝකයේ ඉඳලාම දමනය කලානෙ. ඊටපස්සෙ තව බ්‍රහ්මයෙක් හිතුවා, ඒ බ්‍රහ්මයා හිතනවා කිසිම කෙනෙකුට බ්‍රහ්ම ලෝකෙට එන්න බෑ කියලා, ඇයි ලේසියෙන් පින්වතුනි බ්‍රහ්ම ලෝකෙ යන්නෑනෙ කවුරුවත්. දැන් බලන්න අර, ඔය බක බ්‍රහ්මයා හිටපු බ්‍රහ්මලෝකෙ හිටියේ හැත්තෑ දෙන්නයි. එතකොට බ්‍රහ්ම ලෝකෙට ලේසියෙන් යන්නෑනෙ කවුරුත්. ඒ නිසා ඒ බ්‍රහ්මලෝකෙ හිටපු

බ්‍රහ්මයා හිතුවා මේ බ්‍රහ්ම ලෝකෙට නම් කිසි කෙනෙකුට එන්න බෑ කියලා. එතකොට බුදුරජාණන් වහන්සේ ඒ සිතුවිල්ල හිතනකොටම බුදුරජාණන් වහන්සේ අතුරුදහන් වෙලා බ්‍රහ්මයාගේ ඉහළින් ආකාසේ හිටියා. බ්‍රහ්මයා පුදුම වුනා මෙන්න කෙනෙක් ඇවිල්ලා කියලා. ඒ වෙලාවේ මුගලන් මහරහතන් වහන්සේ බැලුවා බුදුරජාණන් වහන්සේ කොහෙද ඉන්නෙ, බ්‍රහ්ම ලෝකෙ. මුගලන් මහරහතන් වහන්සේ අතුරුදහන් වෙලා බුදුරජාණන් වහන්සේගේ වම් පැත්තෙන් හිටියා. බුදුරජාණන් වහන්සේගේ වම් පැත්තෙන්, බුදුරජාණන් වහන්සේට පහළින්, බ්‍රහ්මයාට ඉහළින්. මහාකාශ්‍යප මහරහතන් වහන්සේ කල්පනා කලා කෝ අපේ භාග්‍යවතුන් වහන්සේ කොහෙද දන්නෑ, බ්‍රහ්ම ලෝකෙ. මහාකාශ්‍යප මහරහතන් වහන්සේ එතනින් අතුරුදහන් වෙලා බ්‍රහ්ම ලෝකෙ බුදුරජාණන් වහන්සේට දකුණු දිශාවෙන් බුදුරජාණන්වහන්සේට පහළින්, බ්‍රහ්මයාට ඉහළින් පහළ වුනා. ඊළඟට රට්ඨපාල මහරහතන් වහන්සේ කල්පනා කලා අපේ බුදුරජාණන් වහන්සේ කොහෙද දන්නෑ කියලා, ඊටපස්සෙ එතකොටත් බුදුරජාණන් වහන්සේ බ්‍රහ්ම ලෝකෙ. මේ මනුස්ස ලෝකෙන් අතුරුදහන් වෙලා බ්‍රහ්මලෝක පහළ වුනා රට්ඨපාල මහරහතන් වහන්සේ බුදුරජාණන් වහන්සේට පහළින් බ්‍රහ්මයාට ඉහළින්. ඊළඟට කප්පිණ මරහතන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේ කොහෙද බැලුවා, බ්‍රහ්ම ලෝකෙ. මනුස්ස ලෝකෙන් අතුරුදහන් වුනා, බ්‍රහ්ම ලෝකෙ පහළ වුනා. දැන් අර බ්‍රහ්මයා හිතුවෙ මොකක්ද, ඊටපස්සෙ මුගලන් මහරහතන් වහන්සේ අර බ්‍රහ්මයාගෙන් ඇහුවා, දැන් බුදුරජාණන් වහන්සේ වචනයක් වත් දේශනා කලේ නෑ. මුගලන් මහරහතන් වහන්සේ බ්‍රහ්මයාගෙන් ඇහුවා ඒයි එම්බා බ්‍රහ්මය, නුඹට දැන් අර ඉස්සෙල්ලා තිබ්බ මිත්‍යාදෘෂ්ටිය තියෙනවාද කියලා ඇහුවා. බ්‍රහ්ම ලෝකෙට කිසිම කෙනෙකුට එන්න බෑ කියන දෘෂ්ටිය, මිත්‍යාදෘෂ්ටිය තියෙනවාද. අනේ හිරු මඩලක් වගේ ශ්‍රාවක ජනයා පරිවරාගෙන වැඩ ඉන්න බුදුරජාණන් වහන්සේ දැක්කට පස්සෙ මගේ මිත්‍යාදෘෂ්ටිය සුන්නද්දූලි වුනා කිව්වා. බුදුරජාණන් වහන්සේ එතනින් අතුරුදහන් වුනා, ශ්‍රාවකයො අතුරුදහන් වුනා. ඊටපස්සෙ එතන හිටපු බ්‍රහ්මයෙකුට අර බ්‍රහ්මයා කතා කරලා කියනවා, නුඹ දැන් පලයන්, ඔය මොග්ගල්ලාන භික්ෂූන් වහන්සේගෙන් අහපන් ඔය වගේ බ්‍රහ්ම ලෝකෙ එන්න පුලුවන් තවත් කට්ටිය ඉන්නවාද කියලා. ඉතින් ඒ බ්‍රහ්මයා එතනින් අතුරුදහන් වෙලා මුගලන් මහරහතන් වහන්සේ - ඒ වෙනකොට පහළ වුනේ සැවැත් නුවර - සැවැත්නුවර මුගලන් මහරහතන් වහන්සේ ළඟම පහළ වුනා. වැඳලා කිව්වා, ස්වාමීනී ඔය වගේ

තවත් කට්ටිය ඉන්නවාද. අනේ ඕන තරම් ඉන්නවා. සිය ගණන් ඉන්නවා කිව්වා. දහස් ගණන් සංඝයා ඉන්නවා කිව්වා ඔච්චර මහානුභාවසම්පන්න සෘද්ධි තියෙන. ඉතින් ගිහිල්ලා ඒ බ්‍රහ්මයා අර බ්‍රහ්මයාට කිව්වා, බ්‍රහ්මයා සතුටු වුනා. දමනය කියන්නෙ, රූප දර්ශනයෙන් දමනය කරනවා බ්‍රහ්මයෝ පවා. දෙවිවරු දමනය කලා, ඉතින් පින්වතුනි මාර්ගඵල ලබනවා කියන්නෙ සම්පූර්ණයෙන් එයාලගේ චිත්ත සන්තානය දමනය වෙනවානෙ. ඒවා බුදුරජාණන් වහන්සේ අවවාද ප්‍රාතිහාර්යයෙන් කලානෙ. කීදෙනෙක් දෙවියන් අතර මාර්ගඵල ලැබුවාද. මේ ඔක්කොම බුදුරජාණන් වහන්සේ සත්ත්වයන් තුළ කරපු අනුත්තර පුරිසධම්මසාරථී ගුණය නේද. ඊටපස්සෙ තියෙනවා පින්වතුනි, බුදුරජාණන් වහන්සේ කෙනෙක් දමනය කරන හැටි, අපි දැන් ගමු, ආලවක. ආලවක යක්ෂයා කියලා කියන්නෙ, ආලවක යක්ෂයාගෙ හඬට මුළු ජම්බුද්වීපයම ගිගුම් දුන්නා කියනවානෙ. ඒ ආලවක යක්ෂයා දමනය කරපු විදිය. ඒ ආලවක යක්ෂයාගෙ සම්පූර්ණ සෘද්ධි වලට මුහුණ දීලා ඉඳලා, එළියට යන්න කියනකොට ගිහිල්ලා, ඇතුලට එන්න කියනකොට ඇවිල්ලා, හිත මොලොක් කරලා, ඊළඟට ආලවක යක්ෂයා ප්‍රශ්න අහ නමට්ටමට පත් කරලා, අවසානයේ ධර්ම දේශනාව අවසානයේදි සෝවාන් වුනානෙ. බුදුරජාණන් වහන්සේ යක්ෂයො දමනය කලා. අංගුලිමාල නම් සොරෙක් දමනය කලා. බුදුරජාණන් වහන්සේ නමක් නොසිටින්න, ඇඟිලි නවසිය අනූ නවයක මාලයක් දරාගෙන හිටපු කෙනෙක් කොහොමද කසාවතක් දරාගෙන රහතන් වහන්සේ නමක් බවට පත්වෙන්නෙ. බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන් අනුත්තර පුරිසධම්මසාරථීයි. මිනිස්සු සාප කර කර හිටපු නම, මනුස්සයන්නට දිව්‍ය ඖෂධයක් කලානෙ අංගුලිමාල කියන නාමය. කොහොමද දමනය, අංගුලිමාලයන් කියනවා, දණ්ඩේනේචෙදමයන්ති, අංකුසේහි කසාහිත අදණ්ඩේන අසත්තේන අහං දන්තෝ මිතාදිනා, මේ ලෝකෙ සත්ත්වයන් දඬුවම් කරලා, ඊළඟට අංකුසයෙන් ඇනලා කසවලින් ගහලා තමයි ලෝක සත්ත්වයා දමනය කරන්නෙ. දඬුමුගුරු ගන්නැතිව, දඬුවම් දෙන්නැතිව, අවි ආයුධ ගන්නැතිව, සැත් ගන්නැතිව බුදුරජාණන් වහන්සේ මාව දමනය කලා. මං මේ සංසාරෙ සැඩපහරේ ගහගෙන යද්දි මටත් බුදුරජාණන් වහන්සේ සරණ යන්න ලැබුනා. දැන් බලන්න මේ අංගුලිමාල දෙස. අංගුලිමාල නිකෙලෙස් මුණිවරයෙක්. මට බුදුරජාණන් වහන්සේ සරණ යන්න ලැබිච්ච එක කොයිතරම් වාසනාවක්ද. මාගේ මිතුරෝද ධර්මය අසත්වා. මාගේ සතුරෝද ධර්මය අසත්වා. මේ සියලු ලෝක සත්ත්වයාම ධර්මයම අසත්වා කියලා

අංගුලිමාලයන් ප්‍රීතිඝෝෂා කලා. පුදුම සහගතයි. ඇඟිලි වලින් වැහුනු කය ඍද්ධියෙන් ලැබුනු කසාවතින් වැසුවා. කඩුව අතට අරන් ඇඟිලි හොයපු හිත, පාත්‍රය අතට අරන් ගෙයින් ගෙට පිඬු සිඟා ගියා. කවුද මරන්නේ, කවුද මරන්නේ කිය කියා හිටපු හිතට සියලු සත්ත්වයෝ සුවපත් වේවා කියන මෛත්‍රිය දුන්නා. දුවන මුවන් පිටිපස්සේ, දුවන අශ්වයන් පිටිපස්සේ, දුවන ඇතුන් පිටිපස්සේ, ඇඟිල්ලක් සොයාගෙන ගිය අංගුලිමාල බඹයක් පමණ වූ බිම නෙත් කැළුම් බිම යොමාගෙන පිණ්ඩපාතෙ වැඩියා. ජීවිතේ ඉල්ලලා මරලතෝනි දෙන මිනිසුන් ගැන කාරුණික මාත්‍රයක් නැතිව ඇඟිලි කපපු අංගුලිමාල, පිණ්ඩපාතෙ වඩිනකොට දරුවෙක් බිහිකරගන්න බැරිව අඬන මවකගේ හැඬුමේ හඬින් හදවත ගොඩාක් සංවේගයට, දුකට පත්වුනා. බුදුරජාණන් වහන්සේ ඒ හදවත කොච්චර මෙලෙක් කලාද කියලා බලන්න. මිනිස්සු දාහක් මරද්දී ජීවිතේ ඉල්ලලා අඬද්දී, මොහොතක් කඩුව නවත්තලා නෑ අංගුලිමාල. ඒ හදවත බුදුරජාණන් වහන්සේ මොලොක් කලානේ, කොච්චර මොලොක් කලාද, හැඬුමක් හඬනකොට දැනෙන විදියට ඒ හදවත මොලොක් කලා. කිසි කෙනෙකුට තමන්ට අත ඔසවන්නට දීලා තිබ්බෙ නැති අංගුලිමාලට බුදුරජාණන් වහන්සේ වැදෙන ගල්මුල් පාරවල් හැම එකක්ම ඉවසලා ඉන්න විදියට මොලොක් කලා. ඉවසන ගුණයෙන් යුතු කලා. පුදුම දමනයක්. අදටත් මේ ගොඩාක් කුරිරු නොසණ්ඩාල මිනිස්සු දකිනකොට හිතෙනවා බුදුරජාණන් වහන්සේ වැඩ හිටියානම් කියලා. කොච්චර කුරිරු මිනිස්සු මේ ලෝකෙ පහළ වෙලාද. මනුස්සයා මනුස්සයාම ඝාතනය කරන, මිනිස්සු මරන්නම ප්ලෑන් කරන, ඊළඟට කිසිම මනුස්ස වර්ගයා ගැන තෙත් ගතියක් නැති, ආගම්වාදය හිසේ තියාගෙන, මූලධර්මවාදය හිසේ තියාගෙන, මේ මානව සංහතියට කුරිරුකම් කරන නපුරු ජනයා අපිට දකින්න ලැබෙනවා, බුදුරජාණන් වහන්සේ වැඩ හිටියා නම් කියලා හිතෙනවා, මේ සත්ත්වයෝ බුදුරජාණන් වහන්සේට මිසක් නම් කාට නම් දමනය වෙයිද කියලා හිතෙනවා. සමහර අම්මලත් සමහර වෙලාවට කියනවා අනේ ස්වාමීනී අපේ එකා දමනය කරන්න නම් බුදු කෙනෙක් පහළ වෙන්න ඕන කියලා. බණක් අහන්නේ නෑ, මොකක්වත් නෑ, පන්සලකට යන්නෙ නෑ. කිසිම තෙත් ගතියක් නෑ කියලා කියනවා. මොනවා කරන්නද. බුදුරජාණන් වහන්සේගේ මේ දහම නැමැති අවවාද ප්‍රාතිහාර්යයට දමනය වුන් නැත්නම් අපි මොකද කරන්නෙ. පින්වතුනි, බුදු කෙනෙක් ළඟ දමනය වෙන්නත් සංසාරෙ පිනක් තියෙන්න ඕන. බුදුරජාණන් වහන්සේට කෙනෙක් ඉන්න ස්වභාවය, එයා ඇඟිලි කප කපා ඉන්නවාද, එයා ගණිකාවක් ද, එයා

සල්ලාලයෙක්ද, එයා බේබද්දෙක්ද, ඊළඟට මෙයා හිඟා කන එකෙක්ද, මෙයා අශුචි වලවල් හෝදන එක්කෙනෙක්ද, ඒවා බුදුරජාණන් වහන්සේට අදාළ නෑ, බුදුරජාණන් වහන්සේ එයා දෙස බලන්නෙ ඔහුට දමනය වීමේ පින තියෙනවාද කියලා. දමනය වීමේ පින තියෙනවා නම් අශුචි අතගාන කෙනා දමනය කරනවා ඉර හඳ අතගාන විදියට. බුදුරජාණන් වහන්සේ ඔහුව දමනය කරනවා. ඔහුව දමනය කරලා මහා බ්‍රහ්මයා ඔහුගේ පා ළඟට ගේනවා බුදුරජාණන් වහන්සේ. අනුත්තර පුරිසධම්ම සාරථී. බුදුරජාණන් වහන්සේ දවසක් ධර්මාසනයේ වැඩ ඉන්නවා, මේං එනවා දණ ගාගෙන එනවා, නිරුවත් තාපසයො දෙන්නෙක් බඩගාගෙන එනවා දණගගා. එක්කෙනෙක් හරකෙක් විදියට, එක්කෙනෙක් බල්ලෙක් විදියට. ඇවිල්ලා කියනවා භවත් ගෞතමයන් වහන්ස, ඔබවහන්සේට ඉතින් හැමදෙයක්ම පේනවා කියලයි ආරංචි. අපි මේ ව්‍රත රකිනවා. මොකක්ද අපි රකින ව්‍රත. ඒ තමයි අපි රකිනවා, එක්කෙනෙක් බල්ලෙක් විදියට ඉන්නවා. එක්කෙනෙක් ගවයෙක් විදියට ඉන්නවා. අපි මැරිලා බ්‍රහ්ම ලෝකෙ යනවා කියලයි අපිට ආරංචි කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා, ඕවා නැතිව වෙන එකක් කතා කරන්න. අනේ නෑ ඕකම දැනගන්න ඕන අපි මැරුණට පස්සෙ කොහෙද යන්නෙ? බුදුරජාණන් වහන්සේගෙන් තුන් පාරක් ඇහුවට පස්සෙ වදාළා, ඉන්නෙ ගවයෙක් වාගේ නම්, හිතන්නෙ ගවයෙක් වාගේ නම්, යන්නෙ එන්නේ ගවයෙක් වාගේ නම් හිත හැදෙන්නෙ එයාට ගව චිත්තයක්. මරණින් මත්තේ ගවයො අතර ඉපදෙනවා කිව්වා. සුනඛයත් ඒ වගේ තමයි කිව්වා. අඬන්න ගත්තා. බුදුරජාණන් වහන්සේ කිව්වා අඬන්න එපා. ඒකනේ අඩන නිසානෙ කියන්න බෑ කිව්වෙ. අනේ නෑ ස්වාමීනී අපිව බේරගන්න කියලා පැවිදි වුනා. පැවිදි වුනාට පස්සේ බුදුරජාණන් වහන්සේගේ ශාසන ප්‍රතිපදාව අනුගමනය කරලා අර්හත්වයට පත්වුනා. තමන් ළඟ බඩගාගෙන ආපු දෙන්නා බුදුරජාණන් වහන්සේ දමනය කලා මහා බ්‍රහ්මයා ඔවුන් ළඟ දණ ගහලා වඳින විදියට. කොහොමද බුදුරජාණන් වහන්සේගේ අනුත්තර පුරිසධම්ම සාරථී ගුණය. හොඳට ඔය කාරණාව තේරෙන සූත්‍ර දේශනාවක් තියෙනවා ඔබ කවුරුත් දන්න. කේසී සූත්‍රය. කේසී. කේසී බුදුරජාණන් වහන්සේ බැහැදකින්න ආවා. වන්දනා කරලා පසෙක ඉඳගත්තට පස්සෙ බුදුරජාණන් වහන්සේ අහනවා කේසී ඔබ මේ අශ්වයො දමනය කරන කෙනෙක් නේද්? කොහොමද ඒ දමනය කරන්නෙ? කේසී කියනවා මම හොඳ කරුණාවෙන් හොඳින් දමනය කරනවා. ඒ වගේම ටිකක් සැරපරුෂයටත් දමනය කරනවා. හොඳිනුත් සැරපරුෂයෙනුත් දෙකෙන්ම දමනය කරනවා. ඉතින් කේසී හොඳට හොඳින්

හෝ හොඳ නරක දෙකෙන්ම දමනය වුන් නැත්නම් මොකද කරන්නෙ. ස්වාමීනී මම එයාව මරලා දානවා, ඒ අශ්වයා. මොකද අපේ පරම්පරාව අශ්වයන් දමනය කිරීම පිණිසම පුහුණුවෙච්ච පරම්පරාවක්. අපිටත් දමනය වුන්නැත්නම් ඒ අශ්වයාගෙන් වැඩක් නෑ කිව්වා. ඒකා මරණ එක සැපයි කිව්වා. ස්වාමීනී මමත් මේ අහන්න හිටියේ. භාග්‍යවතුන් වහන්සේ පුරුෂයන් දමනය කරන්න අනුත්තරයි. ඔබ වහන්සේ තරම් පුද්ගලයෝ දමනය කරන කෙනක් නෑ තවත්. මම අහන්නේ භාග්‍යවතුන් වහන්සේ කොහොමෙයි මේ දමනය කරන්නෙ. කේසී මම මේ සත්ත්වයා දමනය කරන්නෙ මමත් හොඳින් දමනය කරනවා, නරකිනුත් දමනය කරනවා. හොඳ නරක දෙකෙන්ම දමනය කරනවා. ස්වාමීනී කොහොමද ඒ? හොඳින් දමනය කරනවා කියලා කියන්නෙ කේසී, මම කියලා දෙනවා මෙන්න සුචරිතය, සුචරිතයේ විපාක. කාය සුචරිතය, වචී සුචරිතය, මනෝ සුචරිතය. මෙන්න පින්, පින් වල විපාක. කුසල්, කුසල් වල විපාක. මෙහෙමයි මිනිස්සු වෙන්නෙ, මිනිස්සුන්ගෙ සැප විඳින්නෙ. මෙහෙමයි දෙවියන් වෙන්නෙ, දෙවියන්ගෙ සැප විඳින්නෙ. දිව්‍යලෝක වල විස්තර කියලා දෙනවා. එතකොට මේ සත්ත්වයා දමනය වෙනවා ඒකට. කුසල් කරන්න, හොඳ කරන්න, පින් කරන්න දමනය වෙනවා. සමහර අයට ඒක හරියන්නෑ, සමහර අයට කේසී, කියලා දෙන්න ඕන දුශ්චරිතයේ විපාක. කාය දුශ්චරිතය, වචී දුශ්චරිතය, මනෝ දුශ්චරිත වල විපාක කියලා දෙන්න ඕන. නිරයේ විස්තර, පෙරේත ලෝකෙ විස්තර, තිරිසන් ලෝකෙ විස්තර ඒ වාගේ පාපයේ භයානක විපාක ගැන විස්තර කරලා දෙනකොට ඒ විපාක වලට බය වෙලා සමහර අය දමනය වෙනවා. පෙලක්. එතකොට ආන්න ඒ අය නරකට දමනය වුනා. ඒ අය පව් කරන්නෑ විපාකයට බයයි. එයා ධර්මයට එනවා. කේසී මම ඔය ක්‍රම දෙකම හොඳයි, හොඳේ විපාකයි. නරකයි, නරකයේ විපාකයයි, සුචරිතයයි, සුචරිතයේ විපාකයි. දුශ්චරිතයයි, දුශ්චරිතයේ විපාකයි. කුසල් අකුසල් පින් පව් මේ හැම එකක්ම කියලා දෙනවා. දැන් දේවදූත සූත්‍රය ගත්තොත් ඔය පැති දෙකම කියලා තියෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා නිරය ගැන, තිරිසන් ලෝකෙ ගැන, පෙරේත ලෝක ගැන, දැන් දිව්‍යලෝක ගැන, දැන් පේතවත්ථු, විමානවත්ථු, නිරයේ විස්තර ඔක්කොම කියලා දෙනවා. විමානවත්ථු, කුසල් වල විස්තර ඔක්කොම කියලා දෙනවා. එතකොටත් දමනය වෙනවා. එතකොට කේසී ඇහුවා ස්වාමීනී, ඔය එකම එකකටවත් දමනය වෙන්නැත්නම් මොකද කරන්නෙ? බුදුරජාණන් වහන්සේ වදාළා, කේසී ඔය එකම එකකටවත් දමනය වෙන් නැත්නම් මම කරන දේ තමයි එයාව මරලා දානවා. කේසී කිව්වා මගේ

අම්මේ භාග්‍යවතුන් වහන්ස, භාග්‍යවතුන් වහන්සේ අවිහිංසාවාදියී කියලානේ ප්‍රචාරය වෙලා තියෙන්නෙ. ප්‍රාණඝාතයෙන් වැළකුණා කියලානෙ ප්‍රචාරය වෙලා තියෙන්නෙ. හිංසාවක් කරන්නෑ කියලානෙ, බුදුරජාණන් වහන්සේට සත්තු මරන එක අකැපයිනෙ කිව්වා. කේසී අකැපයි තමයි, ආර්යය විනයේ මරණවා කියන්නෙ ඕකට නෙවෙයි කේසී. කේසී මම ඔය විදියට දමනය වෙන් නැත්නම් මම එයාට අවවාද කරන්න ඕන අනුශාසනා කරන්න ඕන කියලා මම හිතන් නෑ. මගේ ශ්‍රාවකයොත් මෙයාට අවවාද කරන්න ඕන, අනුශාසනා කරන්න ඕන කියලා හිතන්නෑ. එතකොට කේසී බුද්ධ ශාසනයේ කෙනෙකුට මේ අවවාද අනුශාසනා ලැබෙන්නැද්ද ඒක ඔහු මැරුණා වගේ කිව්වා. කේසී කියනවා ඒක නම් ඇත්ත ස්වාමීනී, භාග්‍යවතුන් වහන්ස. ශාස්තෘන් වහන්සේගේ හෝ ශාස්තෘන් වහන්සේගේ දමිත වූ ශ්‍රාවක සංඝරත්නයේ අනුශාසනා ලැබෙන් නැත්නම් ඒ කෙනා මැරුවාම තමයි කිව්වා. ස්වාමීනී මම නම් මේ ධර්මය ඇහුවා, මට නම් පුදුම සහගතයි, මගේ බුදුරජාණන් වහන්සේගේ මේ අනුත්තර පුරිසදම්ම සාරථී ගුණය. මම දිවි හිමියෙන් බුදුරජාණන් වහන්සේ සරණ යනවා. ධර්මය සරණ යනවා. සංඝ රත්නය සරණ යනවා කියලා ඔහු දමනය වුනා ඒ වෙලාවේ. ඔහු දමනය වුනා. පුදුම විදියට දමනය වෙන්නෙ භාග්‍යවතුන් වහන්සේට සත්ත්වයා. එතකොට පින්වතුනි දැන් ඔන්න පේතවත්ථු විමානවත්ථු ආදී දේවල්, දැන් ඔන්න ධර්ම දේශනා සර්වසම්පූර්ණයෙන්ම විස්තර කියලා දුන්නානෙ දැන් ශ්‍රද්ධා රූපවාහිනියෙන්. රූපවාහිනිය මුල් කරගෙන මේ මහමෙව්නාවේ ධර්ම දේශනා වලින් පේතවත්ථු, විමානවත්ථු කුසල් අකුසල් හැම දෙයක් ම කියලා දුන්නානෙ. මෙච්චරත් ධර්මය අහලා දමනය වෙන් නැත්නම් අර අවසානෙට කියපු දේ තමයි මරලා දාන්න ඕන. කොහොමද මරන්නෙ? වැඩක් නෑ ඒ අයට කියලා. නිහඬව ඉන්න ඕන. ඉතින් ඒ නිසා පින්වතුනි මේ විදියට මේ කරුණු කාරණා ගැන හිතන්න ඕන. සමහර වෙලාවට දමනය කරන එක හරි පුදුම සහගතයි. එක බ්‍රාහ්මණයෙක් ඇවිල්ලා ඇහුවා, ඔබ වහන්සේ හරි මායාකාරයෙක් කියලා ආරංචියි කිව්වා. ඒකයි මං මේ ආවෙ. බුදුරජාණන් වහන්සේ වදාළා, බ්‍රාහ්මණය, ඔබ දැන් රජමැදුරට යනවානෙ. මම රජමැදුරට යනවා කිව්වා. රජමැදුරේ හොරකම් කරන මිනිස්සු අහුවෙනවා, ඒ මිනිස්සුන්ගේ හොරකම් ගැන දන්නවාද. ආ මං දන්නවා කිව්වා රජමැදුරේ හොරකම් කරන අයයි, හොරකම් වලට අහුවෙන අයයි, එයාලගේ සියලු විස්තර ටික මං ගාව තියෙනවා කිව්වා. ඒ මිනිස්සු හොරකම් කරන සියලු විස්තර ඔබ දැනගත්තා කියන එකෙන් ඔබ හොරෙක් වුනාද? නෑ කිව්වා.

ආනන්ද ඒ වගේ තමයි මේ ලෝකයේ යම්තාක් මායාවල් ඇත්ද, ඒ මායාවල් සියල්ල මම දන්නවා කිව්වා. එහෙම දැනගත්තට මං මායාකාරයෙක් නෙවෙයි කිව්වා. ඒ වෙලාවෙම දණ ගැහුවා. අච්චරියං භන්තේ, අද්භූතං භන්තේ. ස්වාමීනී ආශ්චර්යයියි, අද්භූතයි, මම දිවි හිමියෙන් බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා. මේ බුදුරජාණන් වහන්සේගේ අනුත්තර පුරිසදම්ම සාරථී ගුණය. නොයෙක් වචනයෙන් දවසක් පුරාවට, සතියක් පුරාවට, අවුරුද්දක් පුරාවට, මුළු ජීවිතේ පුරාවටම බුදුරජාණන් වහන්සේගේ අනුත්තර පුරිසදම්ම සාරථී ගුණය කියන්න වටිනවා පින්වත්නි. ඒ නිසා ඔබත් සිහි කරන්න. මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ අකීකරු දෙව් මිනිසුන් ඍද්ධි ප්‍රාතිහාර්ය ඥාණයෙන්ද, ආදේශනා ප්‍රාතිහාර්ය ඥාණයෙන්ද, අවවාද ප්‍රාතිහාර්ය ඥාණයෙන්ද දමනය කොට සීල, සමාධි, ප්‍රඥා මාර්ගයෙහි හික්මවලා අමා මහ නිවන් ලබාදෙන හෙයින් බුදුරජාණන් වහන්සේ අනුත්තර පුරිසදම්ම සාරථී වන සේක කියලා. බුදුරජාණන් වහන්සේගේ අනුත්තර පුරිසදම්මසාරථී ගුණය ගැන හිතන්න. ඔබ මෙච්චර වෙලාවක්, හෝරාවක් ඔතන ඉඳගෙන බණ ඇහුවේ බුදුරජාණන් වහන්සේට දමනය වෙලා. මම පැවිදි වුනේ බුදුරජාණන් වහන්සේට දමනය වෙලා. අපේ කටින් විහිලු තහලු කරාගෙන සින්දු කියාගෙන ගෙවල්වල කාමලෝකෙ පීඩා විඳ විඳ ඉන්න හිටපු අපේ කටවල් වලින් බුදුගුණ කියවෙන්නෙ, බුදුරජාණන් වහන්සේට දමනය වෙලා. මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ අදටත් ධර්මය තුළ වැඩ සිටිනවා. ඒ නිසා අනුත්තරපුරිසදම්ම සාරථී ගුණයෙන් මේ දමනය නොවුනු සිත දමනය වේවා. දමනය නොවුනු කය දමනය වේවා. දමනය නොවුනු වචනය දමනය වේවා. බුදුරජාණන් වහන්සේගෙන් තව තව දමනය වෙලා, කෙලෙස් ගිනි නිවාගෙන, මේ සසරෙන් නිදහස් වෙන්න වාසනාව ලැබේවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ, නො. 128, පිරිවෙන පාර බොරලැස්ගමුව යන ලිපිනයේ පදිංචි පින්වත් විජිතමුල්ල පවුලේ සැමදෙනා විසින්. ඉතින් මේ පින්වතුන් අප්‍රමාණ පිනක් අද දවසේ රැස් කරගත්තේ. අනුත්තර පුරිසදම්ම සාරථී වූ තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් ගුණය ලෝකෙටම අහන්න සැලැස්සුවා. ඉතින් ඒ නිසා ඒ පින් බලය, ඒ වගේම භාග්‍යවතුන් වහන්සේගේ ලොව දමනය කරන අසිරිමත් ආනුභාවයෙන්, සත්‍යානුභාව බලයෙන් මේ ලෝකයටත්, රටටත් ව්‍යසනයක් වූ මේ වසංගතය දුරින්ම දුරු වේවා. රෝගී වූ අය ඉක්මණින් සුවපත් වේවා. මනුස්ස වර්ගයාට බියක් සැකක්

නැතිව ජීවත් වෙන්න උතුම් සම්බුදු සරණින් ආශිර්වාද වේවා කියලා සෙත් පතමු. පින් කැමැති සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වෙත්වා. පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වන දෙවියෝ මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම 1993 දෙසැම්බර් මස 14 වෙනි දින මියපරලොව ගිය චාර්ලිස් විජිතමුල්ල පියාණන්ටත්, ඒ වගේම 2013 පෙබරවාරි මස 6 වෙනි දින මියපරලොව ගිය මැගිලින් විජිතමුල්ල මෑණියන්ටත්, 2012 මැයි මස 11 වන දින ජන්මදිනය සමරන එච්. ජී. වැලිගොඩපොල පියාණන්ට සහ පියසීලී විජිතමුල්ල සහෝදරිය ඇතුළු ඒ නමින් මියපරලොව ගිය සියලු ඥාතීන්ටත් මේ පින් අනුමෝදන් වේවා. මියපරලොව ගිය ඥාතීන්ට පරලොව සැපය වේවා කියලා පින් පමුණුවමු. ඒ වගේම අපිට උතුම් සම්බුදු ගුණ කියලා මේ බුද්ධ ශාසනේ සරණ අපිට ලබලා දුන්න මේ අසිරිමත් බුදු ගුණ කඳ අපිට අහන්න සැලසුනේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා. ඉතිපිසෝ ගාථාව වත් හරියට දන්නැතිව, නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස කියන නමස්කාරය ගැනවත් දන්නැතිව හිටපු අපි, කියන්නත් වාලේ පන්සිල් කියාගෙන හිටපු අපිව දමනය වුනා මේ බුදුබණ පදයට. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ අපිට මේ දහම් මාර්ගය විවර කරලා දුන්නු නිසා. පරමපූජනීය, ගුරුදේවෝත්තම, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා. දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලු ස්වාමීන් වහන්සේලාට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ගෞතම සසුනේ ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම පින්වත් විජිතමුල්ල මහත්මයාටත්, ඒ වගේම මැයි මස 24 වන දින ජන්ම දිනය සැමරූ අමලා වැලිගේපොල මෑණියන්ට, මැයි මස 27 වෙනි දින ජන්මදිනය යෙදෙන පද්මා විජිතමුල්ල මෑණියන්ටත්, නිදුක් නිරෝගී සුවපත් භාවය, දීර්ඝායුෂ සම්පත්තිය වේවා. ඒ විජිතමුල්ල පවුලේ සියලුම දෙනාට දරුවන්ට, මුණුබරන්ට, සියලු දෙනාට පින් අනුමෝදන් වෙත්වා. ඒ සියලු දෙනා නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, භාග්‍යවතුන් වහන්සේගේ අනුත්තර පුරිසදම්ම සාරථී සම්බුදු ගුණයෙන් ඔබ සියලු දෙනා සුවපත් වේවා. මේ ධර්මය තුළ සීල සමාධි ප්‍රඥා මාර්ගයේ ඔබ දමනය වේවා. අමා මහ නිවනින් සැනසෙන්න ඔබට මේ පින් හේතු වාසනා වේවා. ඒ වගේම ලක්විරු ගුවන්විදුලියේ, ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, මේ මාධ්‍යය පවත්වාගෙන යෑම සඳහා උදව් කරන සියලු දෙනාට, අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන් සියලු දෙනාට ඔබ සියලු දෙනාට මේ පින්

බලයෙන් ලොව දමනය කරන මුනිඳුන්ගේ ආනුභාවයෙන්, අකීකරු දෙව් මිනිසුන් දහම තුළ දමනය කර සීල සමාධි ප්‍රඥා තුළ හික්මවන, අමා මහා නිවනට පත් කරවන, අනුත්තර පුරිසදම්ම සාරථී බුදුරජාණන් වහන්සේගේ අනුහසින් ඔබට සෙත් වේවා. අසිරිමත් සම්බුදු සරණ ලැබේවා. නිවනින් සැනසෙත්වා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=rmjlMt9ukJY&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=26

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අදත් අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින්, ඔබ අපි කවුරුත් සරණ ගිය අපගේ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ගුණ ඉගෙන ගන්නවා. මේ බලන්න පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ ඉගෙන ගනිද්දිත් පින් රැස් වෙනවා. ඒ බුදුගුණ මනසිකාර කරද්දි හිත සමාධිමත් වෙනවා. ඒ බුදුගුණ මහිමය, ඒ බුද්ධානුස්සති භාවනාව නිවනට මුල් වෙනවා. මේ ලෝකයේ වෙන කෙනෙක් ගැන සිහි කලා කියලා, වෙන කෙනෙක්ගේ ගුණ කතා කලා කියලා ඒ විදියට වෙන් නෑ. බලන්න නිර්වාණදායක වූ, අමෘතදායක වූ බුදුරජාණන් වහන්සේගේ ගුණ සිහිකිරීමත් ඒ සා ආනිසංස සහිතයි. ඉතින් ඒ නිසා අදත් අපි

ඒ විස්තර ඉගෙන ගනිමු. මාතර පදිංචි පිරිසක් තමයි මේ අද දවසේ මේ ධර්ම දානය සලසන්නේ. මේ මැයි 28 වයසෂ අවුරුදු හැත්තෑ තුන සපිරෙන ආර්.ජී. ගුණපාල පියාණන්ට නිදුක් නිරෝගී සුවත්, තුණුරුවන්ගේ ආශිර්වාදයත් උතුම් බුදුගුණ බලයෙන් ප්‍රාර්ථනා කිරීම සිද්ධ වෙනවා. එතකොට පින්වතුනි අපි අපේ බුදුරජාණන් වහන්සේගේ අරහං ගුණය ඉගෙන ගත්තා. ඊට කලින් ඒ වජිරාසනයේ සම්මා සම්බුදු වෙන්ට පුරාගෙන ආ පාරමී ගුණධර්ම ඒ වගේම දසමර සේනා යුද්ධයක් එක්ක උන්වහන්සේ තනියෙන් සම්මා සම්බුදු වුනේ. පින්වතුනි ශ්‍රාවකයන්ට කෙළෙස් යුද්ධය මිසක්කා, ශ්‍රාවකයන් ඉදිරියට මාරයාගේ පැමිණීමක් නෑ. බුදුවරුන්ට තමයි ඒ බාධාව තියෙන්නෙ. නමුත් බුදුරජාණන් වහන්සේලා ඉන්න ආසනයෙන් සොළවන්න වත් ඒ මාරයාට සිද්ධ වෙන්නෙ නෑ. ඉතින් ඒ වජිරාසනයේම උන්වහන්සේ නවඅරහාදී බුදුගුණයෙන් සමන්විත වෙලා අනන්ත සම්බුදු ගුණයෙන් සෝබමාන වෙලා තමයි පහළ වෙන්නෙ. ඉතින් ඒ බුදුරජාණන් වහන්සේ ගයාවේ වජිරාසනයේ සියලු කෙළෙසුන් නැසූ හෙයින් බුදුරජාණන් වහන්සේ අරහං වන සේක. දෙව් මිනිසුන්ගේ සියලු පූජාවන්ට සුදුසු වුනා. බුදුරජාණන් වහන්සේ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය සතය ඥාණ වශයෙන්, කෘත්‍යය ඥාණ වශයෙන්, කෘතඥාණ වශයෙන් ගුරු උපදේශ රහිතවම බෝ සෙවණේම අවබෝධ කලා. ඒකට තමයි ස්වයංභූත් ඥාණයෙන් ධර්මය අවබෝධ කරපු නිසා තමයි සම්මා සම්බුද්ධයි කියලා කියන්නෙ. විජ්ජාචරණ සම්පන්නයි කියලා කියන්නෙ අනන්ත අවබෝධයෙන් යුතුව උන්වහන්සේට ඍද්ධිවිධ ඥාණය තිබ්බා, දිබ්බචක්ඛු ඥාණය, දිබ්බසෝත ඥාණය, ඊළඟට චුතූපපාත ඥාණය, ආසවක්ඛය ඥාණය, අනාවරණ ඥාණය, අනේකවිධ ඥාණ. ඒ සියලු ඥාණයන්ගෙන් යුක්ත වෙලා ඒ අවබෝධයට අනුවම භාග්‍යවතුන් වහන්සේගේ ජීවිතය ගතවුනා. විජ්ජාචරණ සම්පන්නයි. සුගත කිව්වේ බුදුරජාණන් වහන්සේ සුන්දර වූ නිවන් මාර්ගය අනුගමනය කරලා සුන්දර වූ අමා මහ නිවනට පත්වුනා. සම්බුදු දිවියේ උන්වහන්සේගේ ගමන බිමන, කතා පිළිවෙල පවා අතිශයින් සුන්දරයි. එවැනි සුන්දර, පරම පවිත්‍ර, ආනුභාව, එවැනි අවබෝධයක් තියෙන උත්තමයෙක් තුන්ලෝකෙම නෑ, සුගතයි. ලෝකවිදූ කිව්වෙ අනන්ත ලෝක ධාතුව අවබෝධ කරගෙන බුදුරජාණන් වහන්සේ ඒ ලෝකයෙන් නිදහස් වුනා. ලෝකවිදූ. අනුත්තර පුරිසදම්මසාරථී කියලා කියන්නෙ බුදුරජාණන් වහන්සේට, බුදුරජාණන් වහන්සේ අකීකරු දෙව් මිනිසුන් දහම තුළ දමනය කරනවා. ඍද්ධි ප්‍රාතිහාර්ය ඥාණයෙන්, ආදේශනා ප්‍රාතිහාර්ය ඥාණයෙන්, අවවාද ප්‍රාතිහාර්ය

ඥාණයෙන් අකීකරු දෙව් මිනිසුන් සීල, සමාධි, ප්‍රඥාව තුළ හික්මවනවා. අකුසල් දුරු කරවලා කුසලය තුල හික්මවනවා. අසන්සිඳීම දුරු කරලා සන්සිඳීම තුළ හික්මවනවා. අවිද්‍යාව දුරු කරවලා විද්‍යාව තුළ හික්මවනවා. බුදුරජාණන් වහන්සේ අනුත්තර පුරිසදම්ම සාරථී. සත්තා දේව මනුස්සානං උතුම් සම්බුදු ගුණය අද අපි ඉගෙන ගන්නෙ. සත්තා කියන්නේ ශාස්තෘන් වහන්සේ. ඊළඟට තව තියෙනවා සත්තාවාහ කියලා ගැල්කරුවාට, ඒ කියන්නෙ ඒ ප්‍රධාන ගැල්කරුවාට. ඔහු පිටිපස්සෙ තමයි සියලු දෙනාම යන්නෙ. ප්‍රධාන ගැල් කරුවා තමයි මාර්ගය කියලා දෙන්නෙ. මාවත හඳුනන්නෙ. ඔහු අනුව තමයි ඔක්කොම යන්නෙ. ඒ අයට කියනවා සත්තාවාහ කියලා. ශාස්තෘන් වහන්සේ දෙව් මිනිසුන්ට, සියලු දෙවියන්ටත් මිනිස්සුන්ටත් ශාස්තෘන් වහන්සේ. ඒ නිසා සත්තා දේව මනුස්සානං කියලා කියනවා. පින්වතුනි බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙන්නෙ අපි පිණිසම නෙවෙයි. බුදුරජාණන් වහන්සේ පහළ වෙන්නෙ මිනිස්සු පිණිසම නෙවෙයි. දෙව් මිනිසුන් පිණිස. බුද්ධ ශාසනයක පිහිට පිළිසරණ ලබාගන්න අය දෙවිවරු අතරත් ඉන්නවා, මිනිසුන් අතරත් ඉන්නවා. ඒ සියලු දෙනාටම බුදුරජාණන් වහන්සේ, පින්වතුනි ඒ සියලු දෙනා වෙනුවෙන්මයි පහළ වෙන්නෙ. පළවෙනි ධර්මය දේශනා කරනකොට පින්වතුනි, මනුස්ස ලෝකෙ පස්දෙනයි ඒ ධර්මය ඇහුවෙ. ඒ වුනාට දහ අට කෝටියකට වැඩිය දෙවියන් බඹුන් බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය ඇහුවා. පළවෙනි ධර්ම දේශනාව කරනකොටම මනුස්ස ලෝකෙ එක්කෙනයි මාර්ග ඵල ලැබුවෙ. අඤ්ඤාකොණ්ඩඤ්ඤයන් වහන්සේ සෝවාන් වුනා. දෙවිවරු දහඅට කෝටියක් මාර්ගඵල ලැබුවා. ඇත්තටම මේ බුද්ධ ශාසනය දිහා බලනකොට වැඩිපුරම ධර්මය අවබෝධ කරලා තියෙන්නෙ මාර්ග ඵල ලබලා තියෙන්නෙ දෙවිවරු. බුදුරජාණන් වහන්සේ සත්තා දේවමනුස්සානං වන සේක. එතකොට පින්වතුනි දැන් අපි ගත්තොත් එහෙම මේ ලෝකෙ එක එක ශාස්තෘන් වහන්සේලා වැඩ ඉන්නවා. අපි ගත්තොත් එහෙම බුද්ධ කාලයේ අජිත කේසකම්බලී, පකුධකච්ඡායන, සංජයබෙල්ලට්ඨිපුත්ත, නිගණ්ඨනාතපුත්ත, මක්ඛලීගෝසාල ඔය වාගේ ෂඩ් ශාස්තෘවරු හිටියානෙ. නමින් ෂඩ් ශාස්තෘවරු. නමුත් ඔවුන් ශාස්තෘවරුන් කියලා පාවිච්චි කලාට තුන් ලෝකෙම ශාස්තෘන් වහන්සේ කියන පරම පූජනීය නාමය සුදුසු අපි සරණ ගිය සම්මා සම්බුදුරජාණන් වහන්සේටමයි. හැබැයි ඔය ෂඩ්ශාස්තෘවරු මනුස්ස ලෝකෙ එක එක කණ්ඩායම් හදාගෙන හිටියට දෙවිවරු ඔවුන්ට ගරු කරන්නෑ. ඔවුන්ගේ ශ්‍රාවක පරම්පරාව, සමහර දෙවිවරු ඉඳලා තියෙනවා

ෂඩ්ශාස්තෘවරුන්ගේ ගුණ කිය කියා, නමුත් සරණ ගිය ශ්‍රාවකයො දෙව්ලොව නෑ, මනුස්ස ලෝකෙ සීමිත පිරිසක්. නමුත් පින්වතුනි අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ගුණ නාලොව නාගයින් කියනවා. ඊළඟට ගරුඬ ලොව ගරුඬයො කියනවා. ඊළඟට යක්ෂ ලොව යක්ෂයන් කියනවා. ඒ වගේම අපේ බුදුරජාණන් වහන්සේගේ ගුණ දෙව්ලොව දෙවියන් කියනවා. බඹලොව බ්‍රහ්මයින් කියනවා. සෑමතැනකම බුදුරජාණන් වහන්සේ සරණ ගිය පිරිස ඉන්නවා. දේව, සුර, අසුර, නාග, ගාන්ධර්ව, මනුස්ස සියලුදෙනා අතර බුදුරජාණන් වහන්සේගේ සරණ හොයන අය ඉන්නවා. බුදුරජාණන් වහන්සේ සරණ ගිය අය ඉන්නවා. බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන්ම සත්තා දේවමනුස්සානං. එතකොට පින්වතුනි ඒ බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහලා සරණ ගිය බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පිහිට ගත්ත අය ගැන කතා කරනකොට පින්වතුනි ඇයි මේ දෙව් මිනිසුන්ට ශාස්තෘන් වහන්සේ කියලා කියන්නෙ. පින්වතුනි මිනිස්සුන්ටත් තියෙන ප්‍රශ්නයමයි දෙවිවරුන්ටත් තියෙන්නෙ. එතකොට මිනිස්සුන්ටත් පටිච්ච සමුප්පාද ක්‍රියාවලියක් නිසා මේ දුක ඉපදුනා, හේතු ඵල දහමින්. දෙවියන්ටත් පටිච්ච සමුප්පාදය අනුව තමයි දුක උරුම වුනේ, හේතු ඵල දහමින්. මනුස්ස ලෝකෙ මනුස්සයෙක් මාර්ගඵල ලබනවානම්, දෙවියන්ගේ ලෝකයේ දෙවියෙක් මාර්ගඵල ලබනවානම් ඒ සියලුදෙනාම ඉස්සෙල්ලාම තෙරුවන් සරණ යන්න ඕන. සීලයේ හික්මෙන්න ඕන. ඒ සියලු දෙනා අමා මහ නිවන පිණිස තියෙන සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි කියන මාර්ග දියුණුපමුණු කරගන්න ඕන සියලු දෙවියෝත්, මිනිස්සුත්. සියලු දෙව් මිනිසුන්ම ධර්මය අවබෝධ කරන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන්, වෙන මාර්ගයක් නෑ. ඒ සියලු දෙනාටම ආර්ය අෂ්ටාංගික මාර්ගය දේශනා කරන්නෙ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක්. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක්මයි ධර්මය දේශනා කරන්නෙ. ඒ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ධර්මයමයි කතා වෙන්නෙ. දැන් පින්වතුනි දිව්‍ය ලෝක වල පවා ගෞතම බුදුරජාණන් වහන්සේගේ ධර්මය තමයි කතා වෙන්නෙ. නමුත් දිව්‍යලෝක වල ඉන්නවා කාශ්‍යප බුද්ධ ශාසනයේ දිව්‍ය ලෝකෙ ගිය අයත් තාම ඉන්නවා. නමුත් දිව්‍ය ලෝකෙ දහම් ඝෝෂාව පැතිරෙන්නේ ගෞතම බුදුරජාණන් වහන්සේගෙ. හැබැයි ඒ සෑම බුදුරජාණන් වහන්සේ නමකගේම ධර්මය වචනයෙන් වචනය අකුරෙන් අකුර සමානයි. මාර්ග ප්‍රතිපදාව වචනයෙන් වචනය, අකුරෙන් අකුර

සමානයි. ඉතින් ඒ නිසා පින්වතුනි, දෙවි මිනිසුන්ට ශාස්තෘන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ පළවෙනි ධර්ම දේශනාව සිද්ධ කරලා අනාත්මලක්ඛණ සූත්‍රයෙන් ධර්මය දේශනා කරලා රහතන් වහන්සේලා බිහිවුනාට පස්සෙ ඒ වගේම ඒ හැටක් පමණ රහතන් වහන්සේලාත් එක්ක වස් වසලා අවසානෙ බුදුරජාණන් වහන්සේ ධර්ම දූත සේවයේ සංඝයා පිටත් කලා. චරථ භික්ඛවේ චාරිකං බහුජන හිතාය බහුජන සුඛාය අත්තාය හිතාය සුඛාය දේවමනුස්සානං, පින්වත් මහණෙනි, ධර්මයේ හැසිරෙන්න. දෙවි මිනිස්සුන්ට හිත සුව පිණිස මේ ධර්මයේ හැසිරෙන්න කිව්වා. ධර්මය දේශනා කරන්න කිව්වා දෙවිමිනිස්සුන්ට හිතසුව පිණිස. පින්වතුනි මේ ධර්මය දැන් අපි වුනත් මේ දේශනා කරන ධර්මය මිනිස්සු අතර විතරක් නෙවෙයි දෙවියන් අතරත් පැතිරිලා යනවා. ඒක ලෝකෙ ස්වභාවයක්. චරථ භික්ඛවේ චාරිකං, බහුජන හිතාය බහුජන සුඛාය අත්තාය හිතාය සුඛාය දේවමනුස්සානං කියලා බුදුරජාණන් වහන්සේ සංඝයාට වදාළේ නැනෙ දිව්‍යලෝක වලට යන්න කියලා. මනුස්ස ලෝකෙ ධර්මය දේශනා කරනකොට තමයි ඒවා දෙවිවරු අහගෙන ඉන්නෙ. ඒවා දෙවියන් අහගෙන ඉඳලා ඒ දෙවියනුත් ඒවට අනුව විතර්ක කරනවා. සරණ යනවා. සීලයේ පිහිටනවා. ධර්මාවබෝධය සැලසෙනවා. දැන් බලන්න බුදුරජාණන් වහන්සේ පස්වග භික්ෂූන් වහන්සේලාටයි ධම්මචක්කපවත්තන සූත්‍රය දේශනා කලේ. එතකොට බුදුරජාණන් වහන්සේ වෙනම දෙවිවරුන්ට ආරාධනා කලේ නැනෙ. නමුත් බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරනකොට පිරිවරාගත්තානෙ දස දහසක් ලෝකධාතුවල දෙවිවරු. එතකොට බුදුරජාණන් වහන්සේ පස්වග භික්ෂූන් වහන්සේලාට ද්වමෙව භික්ඛා අන්තා පබ්බජිතේන නසේවිතබ්බා යෝචායං කාමේසු කාමසුකල්ලිකානු යෝගෝ යීනෝ ගම්මෝ අනන්ත සං හිතෝ ආදී වශයෙන් දහම් දේශනා කරනකොට ඒ බණ පදය දහඅට කෝටියක්, කෝටි දහඅටක කෙළවරක ඉන්න දෙවියාටත් ඒ බණ පදය ඇහෙනවානෙ. ඔවුන් මාර්ගඵල අවබෝධ කලානෙ. බුදුරජාණන් වහන්සේ දෙව්මිනිස්සුන්ට ශාස්තෘන් වහන්සේ. දෙව්මිනිස්සුන්ට මග කියාදෙන උත්තමයන් වහන්සේ. දෙව් මිනිස්සුන්ගේ දුක් ගිනි නිවන උත්තමයන් වහන්සේ. දෙවි මිනිස්සුන්ගේ අවිද්‍යා අන්ධකාරය දුරුකරන හිරු මඬලාණන් බුදුරජාණන් වහන්සේ. දෙවි මිනිස්සුන්ගේ හදවත් වල ගිනි සිසිල් කරන සඳ මඬලාණන් වහන්සේ, බුදුරජාණන් වහන්සේ. ඉතින් දැන් මේ බලන්න බුදුරජාණන් වහන්සේගෙන් - දැන් අර මිලින්ද ප්‍රශ්නෙ තියෙනවා - නාගසේන මහරහතන් වහන්සේගෙන්

අහනවා මිලිඳු රජ්ජුරුවෝ, මේ බුද්ධ ශාසනයේ පැවිදි නොවී මාර්ගඵල ලැබූ අය ගැන, අර දෘතාංග ප්‍රශ්නෙදි. එතකොට දෙවිවරු ගැන කියනවා විස්තරේ, පින්වත් රජතුමනි, යමක මහා ප්‍රාතිහාර්යය දක්වන අවස්ථාවෙදි විසිකෝටියක් ප්‍රාණීන් අවබෝධ කලා වැඩිපුරක්ම දෙවිවරු. නැවත චූලරාහුලෝවාද සූත්‍රය වදාළ අවස්ථාවේදී මහාමංගල සූත්‍ර දේශනාව දෙවියන්ටනෙ වදාලෙ. මහාමංගල සූත්‍ර දේශනාව දේශනා කළ මොහොතෙ සමචිත්ත පරියාය දේශනාව කලේ දෙවිවරුන්ට. සමචිත්ත පරියාය දේශනාව කරන වෙලාවෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ, භික්ෂූන්ට දේශනා කලේ දෙවිවරුන්ට ඉදිකටුතුඩක් ගහන තැන දෙවිවරු හැටහැත්තෑව ඉඳලා ඒ දෙවිවරු දේශනාව ඇහුවා කියනවා. පරාභව සූත්‍රය දේශනා කරපු අවස්ථාවෙ, ඊළඟට පුරාභේද දේශනාව, කලාභිවාද සූත්‍රය, ඊළඟට චූලභ්‍යූහ දේශනාව, මහාභ්‍යූහ දේශනාව, තුවටක සූත්‍රය. ඔය යමක මහා ප්‍රාතිහාර්ය පානවෙලාව ඔය. සාරිපුත්‍ර දේශනාව වදාළ අවස්ථාවේ, ගණනාතික්‍රාන්ත වූ දෙව් පිරිසට ධර්මය අවබෝධ වුනා. ගණන් කරලා කියන්න බැරි තරම් දෙවිවරු. මහරජාණෙනි භාග්‍යවතුන්ගේ ශාසනයෙහි මිනිස්සු ගොඩාක් ධර්මය අවබෝධ කලා. ඒ වගේම පිණ්ඩසාල ගුහාවේ අසූකෝටියක් දෙවිවරු ධර්මය අවබෝධ කලා. සක්දෙවිඳු පින්වතුනි, සක්දෙවිඳු පිණ්ඩසාල ගුහාවේ බුදුරජාණන් වහන්සේ බැහැදකින්න ආවා අසූහාරදාහක් දෙවිවරු පිරිවරාගෙන. පංචසික තමයි ඉස්සෙල්ලාම යවලා බුදුරජාණන් වහන්සේට දන්වන්නෙ සක්දෙවිඳු වඩින බව. ඉන්ද්‍රසාල ගුහාව, නාලන්දයේ. ඒ කියන්නෙ රජගහනුවර නාලන්දාවෙ, පාඨලීපුත්‍රයේ එක්තරා පර්වතයක තියෙන්නෙ. ඉතින් අදටත් ඒ ඉන්ද්‍රසාල ගුහාව තියෙනවා. අපි ගිහිල්ලා තියෙනවා ඉන්ද්‍රසාල ගුහාව බලන්න. සක්දෙවිඳු එතන තමයි සෝතාපන්න වුනේ. එතකොට ඒ සෝතාපන්න වුන වෙලාවේ, ඒ සක්කපඤ්ඤ සූත්‍රය අහපු වෙලාවේ ධර්මය අවබෝධ කරලා තියෙනවා, දහස් ගණන්. ඒ අසූහාරදාහම ධර්මය අවබෝධ කලා. දස දහසක් ලෝක ධාතූන්වල අසූ කෝටියක්. ඊටපස්සෙ නැවත බරණැස ඉසිපතනයේ ප්‍රථම ධර්ම දේශනාව කරන අවස්ථාවේ දහ අටකෝටියක් බ්‍රහ්මයෝ ධර්මය අවබෝධ කලා කියනවා. පමණ කළ නොහැකි දෙවියෝ එදා ධර්මය අවබෝධ කලා. නැවත තව්තිසා භවනේදී පඬුපුල් අස්නේ වැඩහිඳ දෙවියන්ට අභිධර්මය දේශනා කල අවස්ථාවේ අසූ කෝටියක් දෙවිවරු ධර්මය අවබෝධ කලා. මාතෘ දිව්‍යපුත්‍රයා සෝවාන් වුනේ එදා. සංකස්ස නගර ද්වාරයෙන් දෙව්ලොවින් වැඩම කොට ලෝක විවරණ ප්‍රාතිහාර්යය දක්වන අවස්ථාවේ දෙව් මිනිසුන් තිස් කෝටියක් ධර්මය අවබෝධ

කලා. වැඩිමනක් දෙවිවරු. මහරජාණෙනි, කපිලවස්තු නිග්‍රෝධාරාමයේ බුදුරජුන්ගේ පරම්පරා විස්තරය දෙසූ අවස්ථාවේ, අපි මුලින් කතා කල අර දස පාරමිතා, බුදුවරුන්ගෙන් විවරණ ගන්න ඒවා, ඊළඟට වෙස්සන්තර ජාතකය, අන්න ඔය වාගේ ධර්මය දේශනා කරන කොට, මහා සමය සූත්‍රය දේශනා කරනකොට ගණන් කළ නොහැකි තරම් දෙවියන්ට ධර්මය අවබෝධ වුනා. ඒ වගේම සුමනමාලාකාර සමාගමේ, ගරහදින්න සමාගමේ, ආනන්ද සිටුවරයාගේ සමාගමේ, ජම්බුක ආජීවකයාගේ සමාගමේ, මණ්ඩුක දිව්‍ය පුත්‍රයාගේ සමාගමේ, ඊළඟට මට්ටකුණ්ඩලී දිව්‍ය පුත්‍රයාගේ සමාගමේ, සොළසා නගරසෝභිනියගේ සමාගමේ, සිරිමා නගරසෝභිනියගේ සමාගමේ, පේෂකාර දියණියගේ කතාවේ, චූල සුභද්‍රාගේ කතාවේ, සාකේත බ්‍රාහ්මණයාගේ ඒ ආදාහනය දකින්න ආ ජනතාව රැස් වුනු වෙලාවේ, සූනාපරන්ත සමාගමේ, බුදුරජාණන් වහන්සේ සූනාපරන්තයට වැඩිය වෙලාවේ, ඊළඟට සක්කපඤ්ඤ සූත්‍රය දේශනාව කරපු අවස්ථාවේ, තිලෝකුඩ්ඩ දේශනාව සිද්ධ කරපු අවස්ථාවේ, රතන සූත්‍රය දේශනා කරපු අවස්ථාවේ, වෙන් වෙන් වශයෙන් අසූ හාරදාහක් ප්‍රාණීන් හට, ඒ එක අවස්ථාවක අසූ හාරදාහ ගානේ මාර්ගඵල ලබලා තියෙනවා. වැඩිමනක් දෙවිවරු. ඉතින් කියනවා පින්වත් රජතුමනි, එක්කෙනෙක් දෙන්නෙක් නෙවෙයි, සියදෙනෙක් නෙවෙයි, සිය දහස් ගණනක් දෙවිවරු, ඒ වගේම මිනිස්සු ශාන්ත වූ පරමාර්ථ වූ නිර්වාණය සාක්ෂාත් කලා. මහරජාණෙනි යම්සේ දෙවිවරු සිටිත් ද, ඔවුහු ගිහියෝයි. පැවිද්දෝ නොවෙයි. මේ විදියට අන්‍ය වූ නොයෙක් කෝටි ලක්ෂ ගණන් දෙවිවරු, කාමභොගී ගිහි ගෙදර වසන ගිහියෝද ශාන්ත පරමාර්ථ අමා මහ නිවන අවබෝධ කලා කියලා නාගසේන මහරහතන් වහන්සේ ගණන් හදලා කියනවා දිව්‍ය ලෝකෙ දෙවිවරු මාර්ග ඵල ලබපු විස්තර. එතකොට ඇත්තටම මේවා කියවගෙන යනකොට තේරෙනවා මිනිස්සු වාගේ තුන් හතර ගුණයක් වැඩිපුර ධර්මය අවබෝධ කරලා තියෙන්නෙ දෙවිවරු. දිව්‍ය ලෝකෙ සුගතියක් මේ. භාග්‍යවතුන් වහන්සේට, භාග්‍යවතුන් වහන්සේගේ ආඥා චක්‍රය අකනිටා බ්‍රහ්ම ලෝකෙනුත් එහාට, ඒ සීමාවක් නෑ. සාමාන්‍යයෙන් මිනිස්සු සම්බන්ධ වෙන්නේ මිනිස්සුත් එක්ක, මිනිස්සුන්ට ඒ කියන දේවල් වසඟයේ පවතින්නේ අකනිටා බ්‍රහ්ම ලෝකය දක්වා නිසා, බුදුරජාණන් වහන්සේ නමුත් ඒ සියල්ල තමන්ට ඕන විදියට ධර්මය දේශනා කරන්න පුලුවන් ශක්තියකින් යුක්ත වුනා. ඒ නිසා බුදුරජාණන් වහන්සේටත් නමක් තියෙනවා වසවර්ති කියලා. ඒ භාග්‍යවතුන් වහන්සේට ඒ සියල්ලම

අවබෝධ කරලා ධර්මය දේශනා කරන්න පුලුවන් සියලුදෙනාටම. බුදුරජාණන් වහන්සේ බ්‍රහ්මයෝ අතරෙ වැඩ ඉන්නවා බබලන්නේ බුදුරජාණන් වහන්සේ, බ්‍රහ්මයෝ නෙවෙයි. බුදුරජාණන් වහන්සේ දෙවියෝ අතර වැඩ ඉන්නවා, බබළන්නේ බුදුරජාණන් වහන්සේ දෙවියෝ නෙවෙයි. බුදුරජාණන් වහන්සේ රජවරු අතර වැඩ ඉන්නවා, බබළන්නේ බුදුරජාණන් වහන්සේ රජවරු නෙවෙයි. දිව්‍ය ශරීර මවාගත්ත නාගයො ඉන්නවා නාග විමානෙ, බුදුරජාණන් වහන්සේ වඩිනවා, බුදුරජාණන් වහන්සේ බබළන්නෙ නාගයො නෙවෙයි. තුන්ලෝකයේම බුදුරජාණන් වහන්සේගේ පින් සිරුර තරම් බබළන රූපශ්‍රීයක්, ඒ වගේම බුදුරජාණන් වහන්සේගේ කටහඬ තරම් මිහිරි කටහඬක් තුන්ලෝකෙම නෑ. බුදුරජාණන් වහන්සේට ඒ ඒ සත්ත්වයාගේ ඒ ඒ භාෂාවෙන් කතා කරන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේ දස බිම්බරක් මාරසේනාව අතරට ගිහිල්ලා කතා කරලා තියෙනවා. බුදුරජාණන් වහන්සේට ඒ භාෂාව ඒ කතාව බුදුරජාණන් වහන්සේට පිහිටනවා. දෙවියන් අතර බ්‍රහ්මයන් අතර ඕන සක්වලක බුදුරජාණන් වහන්සේ ගමින් ගමට වැඩියා. වීදියෙන් වීදියට වැඩියා. වනයෙන් වනයට වැඩියා. නිවසින් නිවසට වැඩියා. බුදුරජාණන් වහන්සේ දිව්‍ය ලෝකෙන් දිව්‍ය ලෝකෙට වැඩියා. දෙව් විමනින් දෙව් විමනට, බ්‍රහ්ම විමානෙන් බ්‍රහ්ම විමානෙට වැඩියා. බුදුරජාණන් වහන්සේ ඒ සියලු දෙනාටම සනාතන ලෝ දහම කියලා දුන්නා. බුදුරජාණන් වහන්සේ උපන් සත්ත්වයාට දුක හැර උරුම වෙච්චි වෙන දෙයක් නැති බව දේශනා කලා. ජරා මරණ හැර වෙන දෙයක් නෑ. බුදුරජාණන් වහන්සේ දේශනා කලා, මේ කොයි ලෝකෙක හිටියත් මේ දුක හටගන්නේ තෘෂ්ණාව හේතුකරගෙන කියලා. බුදුරජාණන් වහන්සේ දේශනා කලා කොයි ලෝකෙ හිටියත් තෘෂ්ණාව ක්ෂය කළොත් අමා මහා නිවන සාක්ෂාත් වෙනවා කියලා. බුදුරජාණන් වහන්සේ දේශනා කලා දුකින් නිදහස් වෙන්න නම් සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි කියන ආර්ය අෂ්ටාංගික මාර්ගය වඩන්න ඕන කියලා. අනේකප්‍රකාර විදියට බුදුරජාණන් වහන්සේ ඒ ධර්මය කියලා දුන්නා. සමහර වෙලාවට බුදුරජාණන් වහන්සේ මනුස්සයන්ට ධර්මය දේශනා කරනවා, සමහර වෙලාවට එයා ධර්මය අවබෝධ කරන්නෙ දෙවියන් අතරට ගිහිල්ලා. උදාහරණයක් ගත්තොත් ඡත්ත මානවක. ඡත්ත මානවක බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහලා පන්සිල් තෙරුවන් සරණ ගිහිල්ලා, පන්සිල් සමාදන් වෙලා, තුණුරුවන් ගුණ සිහි කර කර යනවා. මගදින් මැරෙනවා. දෙවියන් අතර උපදිනවා. දෙවියන් අතර ඉඳලා ඇවිල්ලා බණ

අහද්දි සෝවාන් වුනා. මණ්ඩූක, ගෙම්බෙක්, ගග්‍රා පොකුණේ, සුංසුමාලගිරියේ. ඒ බුදු හඬට අහගෙන හිටියා. එඬේරෙක් ඒ ගෙම්බා උඩ කෙවිට තියාගෙන බණ ඇහුවා. ගෙම්බා මැරුණා. දිව්‍ය ලෝකෙ ඉපදුනා. මණ්ඩූක විමානෙ. බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහන්න ආවා. ධර්මය ශ්‍රවණය කරලා සෝවාන් වුනා. කලින් ජීවිතේ තිරිසනෙක් විදියට බණ පදයක් ශ්‍රවණය කරලා ඒ මිහිරට පැහැදිලා දෙව් ලොව ගිය එකේ විපාකනෙ. ඒ විදියට තියෙනවා දෙවියන් අතර විස්තර. තව එක දිව්‍ය විමානයක් තියෙනවා ඒ දිව්‍ය විමානය මේ විදියට. ඒ තමයි ඒ දෙවියා දිව්‍ය අප්සරාවන් දහස් ගාණක් පිරිවරාගෙන දෙව් සැප විඳිනවා. මල් නෙලන්න උයනට ගිහිල්ලා ඒ දිව්‍යාංගනාවන් ගීත කියමින් මල් නෙලන අතරේ ඒ දිව්‍යරාජයා එක තැනක ඇලවෙලා සැතපුනා. ගිමන් ඇරියා. ඒ ගිමන් අරින වෙලාවෙ අර දිව්‍යාංගනාවෝ චුත වෙලා නිරයේ ඉපදුනා. එතකොට අර දෙවියා බැලුවා දිව්‍ය විමානෙ කවුරුත් නෑ. දිවැසින් බලනවා කිසිම ලෝකෙක පේන් නෑ. නිරයේ ඉන්නවා පේනවා දිවැසට. එතකොට තමන්ගේත් දාඩිය දාන්න ගත්තා. යම් දෙවියෙකුට දාඩිය දාන්න ගත්තා. යම් දෙවියෙකුට දාඩිය දැම්මොත් මල් පරවෙලා ගියොත් ඔහුත් චුත වෙන්න ආසන්නයි. ඊටපස්සෙ ඒ දෙවියා කල්පනා කලා දැන් මට පිහිට කවුද. තුන් ලෝකෙම අසරණ බවට පිහිට නම් බුදුරජාණන් වහන්සේම තමයි. එතනින් අතුරුදහන් වුනා. බුදුරජාණන් වහන්සේ ඉදිරියේ පහළ වුනා. ස්වාමීනී, මේ සසර දුකින් නිදහස් වෙන්නෙ කොහොමද කියලා ඇහුවා. බුදුරජාණන් වහන්සේ වදාළා නාඤ්ඤත්‍ර බොජ්ඣංගා තපසා, නාඤ්ඤත්‍ර ඉන්ද්‍රිය සංවරා, නාඤ්ඤත්‍ර සබ්බ නිස්සග්ගා සොත්ථිං පස්සානුපායනා. බුදුරජාණන් වහන්සේ වදාළා මේ ඉන්ද්‍රිය සංවරය, තපස, බෝධ්‍යාංග මේවා හැර නම් මේ උපන් සත්ත්වයාට යහපතක් නම් පේන්න නෑ කිව්වා. තපස කියන්නෙ සීලය හැර, ඉන්ද්‍රිය සංවරය. මේ බෝධි පාක්ෂික ධර්ම වඩන එක, සප්ත බොජ්ඣංග වඩන එක හැර මේ උපන් සත්ත්වයාට යහපතක් පේන් නෑ කිව්වා. ඉතින් ඒ ධර්මය කන් යොමු කරගෙන ශ්‍රවණය කලා. පින්වතුනි, ඒ වෙලාවෙම සෝතාපන්න වුනානෙ. බලන්න දෙවියන්ට තියෙන පිහිට. සක්දෙවිඳුත් සෝතාපන්න වුනා. කෝටි ගණන් දෙව්වරු සෝතාපන්න වුනා. මේ ඔක්කෝම බුදුරජාණන් වහන්සේ දෙව් මිනිසුන් හට ශාස්තෘන් වහන්සේ වූ නිසා. බුදු කෙනෙක් ලෝකෙට පහළ වීම කොයිතරම් යහපතක් ද. මේ පින්වතුන් දන්න විදියට බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාපු වෙලාවේ පවා වැඩිපුර හැඬුවේ වැළපුනේ කවුද. ගිහි මිනිස්සු ගැන සටහනක්වත් තියෙනවාද. මල්ල රජදරුවන්ගේ රාජමාළිගාවේ පිරිස

හඬලා තියෙනවා. දස දහසක් සක්වල දෙවිවරු තමයි කෙහෙවලු කඩාගෙන ඇඬුවෙ. අතිකිප්පං භගවා පරිනිබ්බායති, ඉතාමත් ඉක්මණට බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පානවා. චක්ඛුං ලෝකෙ අන්තර්දාහිස්සති, අනේ මේ ලෝකයේ දහම් ඇස අතුරුදහන් වෙලා යනවා. මේ ලෝකෙ එකම ඇස නැතිවෙන්නයි හදන්නේ කියලා කොයිතරම් දෙවියන් ඇඬුවද. ඒ දෙවියන්ගේ ශාස්තෘන් වහන්සේ නිසානෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේට පහළ වෙන්න කාලෝ අයංතේ මහාවීර උපපජ්ජමාන පුච්ඡං කියලා ආරාධනා කලේ මිනිස්සුද, දෙවියොද. දෙවියොනෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේට, මහාබෝධිසත්ත්වයෝ මව්කුසේ පිළිසිඳ ගත්තාට පස්සේ සතර කොනේ ආරක්ෂා කරන්නෙ මිනිස්සුද, දෙවියොද. දෙවියොනෙ. ඒ මහාබෝධිසත්ත්වයෝ මව්කුසින් බිහිවෙනකොට ඉස්සෙල්ලාම වඩාගත්තෙ මිනිස්සුද දෙවියොද. දෙවියොනෙ. ඊළඟට මහාබෝධිසත්ත්වයෝ අභිනිෂ්ක්‍රමණය කරනකොට දොරටුව ඇරියෙ මිනිස්සුද, දෙවියොදෙ. දෙවියොනෙ. කන්ථක අශ්වයාගෙ පා හතරට සතරවරම් දෙවියෝ තමන්ගේ අත් සතර තිබ්බනෙ, හඬ ඇහෙන්නැති වෙන්න. සතරපෙර නිමිති පෙන්නුවෙ මිනිස්සුද, දෙවියෝද. දෙවියොනෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේට, මහාබෝධිසත්ත්වයෝ කෙස්කළඹ කැපුවට පස්සෙ කෙස් ටික අහසට දැම්මට පස්සෙ ඉස්සෙල්ලාම ධාතූන් වහන්සේලා ගත්තේ මිනිස්සුද, දෙවියොද. දෙවියොනෙ. සළුමිණ සෑය, සිළුමිණ සෑය ඉස්සෙල්ලාම චෛත්‍යය හැදුවෙ මිනිස්සුද. දෙවියොනෙ. ඊටපස්සෙ උන්වහන්සේ දුෂ්කරක්‍රියා කරනකොට ඒ වටා බලාගෙන, බුදුකෙනෙක් පහළ වෙනකල් බලාගෙන හිටියෙ මිනිස්සුද, දෙවියොද. දෙවියොනෙ. ඒ ඔබගේ පුතා මරණයට පත්වෙන්න ඇති කියලා ඇවිල්ලා සුද්ධෝදන රජ්ජුරුවන්ට කිව්වේ මිනිස්සු දෙවියොද. දෙවියොනෙ. ඔබ වහන්සේ දානෙ වැළඳුවෙ නැත්නම් රෝම කූප ඇතුලෙන් ආහාර ඇතුල් කරනවා ශරීරයට, ආහාර නොගෙන ඉන්න එපා කියලා වැඳගෙන කිව්වෙ දෙවියොද, මිනිස්සුද. දෙවියොනෙ. ඊටපස්සෙ ඒ සම්මා සම්බුදුරජාණන් වහන්සේ පළවෙනි සුජාතාගේ කිරිපිඩු හදනකොට ඒ ආහාරයට දිව්‍ය ඕජාව බැස්සුවෙ දෙවියොද, මිනිස්සුද. දෙවියොනෙ. සම්බුදු වෙනකොට බුදුරජාණන් වහන්සේගේ වටා පිරිවරාගෙන හිටියේ දෙවියෝනෙ. ඊළඟට උන්වහන්සේගේ පළවෙනි ධර්මය අහලා ගොඩාක් ධර්මය අවබෝධ කලේ දෙවියෝ. බුදුරජාණන් වහන්සේ වළඳන දන් පිඩක් ගානෙ දෙවියෝ දිව්‍ය ඕජාව ඇතුල් කරලා තියෙනවා, දෙවිවරු. ඊළඟට සෑම දවසකම රාත්‍රියේ පෙරයම ගෙවීගෙන

යනකොට බුදුරජාණන් වහන්සේ පිරිවරාගන්නෙ මිනිස්සුද දෙවියොද. දිව්‍යලෝකෙ යම්තාක් දෙව්වරුන්ට පැන තියෙනවාද ඒ සියලු ප්‍රශ්න දෙවියෝ අහලා විසඳගන්නෙ බුදුරජාණන් වහන්සේගෙන්නෙ. ඊළඟට පින්වතුනි ඒ සම්මා සම්බුදුරජාණන් වහන්සේ පිරිවරාගෙන ඒ බුදුරජාණන් වහන්සේ වටා දස දහසක් ලෝක ධාතුවල මිනිස්සුන්ටත් වැඩිය, ඒ රහතුන් දකින්න බුදුරජාණන් වහන්සේ දකින්න කපිලවස්තුවේ මහා වනය පිරිවරා ගත්තා දෙවියො. මහාසමය සූත්‍ර දේශනාව වදාලා. ඒ වෙලාවේ දෙවියන්ට ඇතිවන ප්‍රශ්න දෙව්වරු පන්සියයකට ඇතිවන ප්‍රශ්න පන්සිය විදියක්. එක දෙවියෙක් වත් නැහැ ප්‍රශ්නය අහන්න තරම් ඉදිරිපත් වෙන. ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේ තමන්ගේ සම්බුදු සිරුරෙන් එක වගේ බුදුවරු පන්සීයක් මැව්වා. එක වගේ බුදුවරු පන්සීයක් මවලා උත්තර දෙන්නෙ දෙව්වරුන්ටනෙ. ඒ වගේ චූලව්‍යුහ, මහා ව්‍යුහ, කලහභේද, ඒ සියලුම දේශනා මහා සමය සූත්‍රයත් එක්කනෙ තියෙන්නෙ. එහෙම බුදුවරු එක වගේ බුදුවරු පන්සීයක් මවලා ඒ එක එක බුදුරජාණන් වහන්සේ එක එක දෙවියන්ගේ ප්‍රශ්න වලට උත්තර දෙනවා. සුලුපටු ආනුභාවයක්, ප්‍රාතිහාර්යයක් ද බුදුරජාණන් වහන්සේ දෙවියන් ඉදිරියේ දැක්වුවෙ. මහා බ්‍රහ්මයෝ බුදුරජාණන් වහන්සේගේ සිරිපා ළඟට එනවානෙ. සක්දෙවිඳු බුදුරජාණන් වහන්සේ අසනීප වෙලා ඉද්දින්, බුදුරජාණන් වහන්සේ පාවිච්චි කරන පඩික්කම හිසේ තියාගෙන යනවානෙ සක්දෙවිඳු. පුදුම සහගතයිනෙ. සතරවරම් දෙවියෝ සතර කොනේ උපස්ථාන කරනවානෙ. ලංකාවට බුදුරජාණන් වහන්සේ වඩිනකොට සුමන කියන නාරජතුමා නේද, බුදුරජාණන් වහන්සේගේ හිසට කිරිපලු නුගවෘක්ෂය අරගෙන ආවෙ. ඊළඟට ලංකාවෙ ඉස්සෙල්ලාම ධර්මය දේශනා කරද්දින්, සුමන සමන් දෙවියන්, මහාසාල දෙවියන්, පෘථිවි පාලන දෙවියන්, මහාසේන දෙවියන්, ඒ ඔක්කෝම ලංකාවේ ධර්මය අහපු අය මිනිස්සුද, ඒ ඔක්කොම දෙව්වරුනෙ. මාර්ගඵල ලැබුවානෙ. බුදුරජාණන් වහන්සේ දෙව් මිනිසුන්ට ශාස්තෲන් වහන්සේ, සත්තා දේවමනුස්සානං වන සේක. බුදුරජාණන් වහන්සේ කුසිනාරාවට වඩින ගමනේ බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාන්න යන ගමනේ කොයිතරම් නම් පිටිපස්සෙන් ඒ දෙවිදේවතාවුන් වහන්සේලා බුදුරජාණන් වහන්සේ සමඟ ගමන් කලාද. එදා කුසිනාරාවේ බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නකොට උපවාන ස්වාමීන් වහන්සේට ඉස්සරහින් අයින් වෙන්න කියන්නෙ, උපවාන ඔතනින් අයින් වෙන්න. භාග්‍යවතුන් වහන්සේන් ඒ ස්වාමීන් වහන්සේ අහනවා, ඇයි භාග්‍යවතුන් වහන්ස? දස දහසක් දෙව්වරු

දිව්‍යලෝක වලින්, සක්වල වලින්, දෙවිවරු ඇවිල්ලා ඉන්නවා මේ උපවානගේ ශරීරය විනිවිද දකින්න බෑ. අනේ අවසන් වතාවට තථාගතයන් වහන්සේ දකින්න ඕන කියනවා. ඒ වෙලාවෙත් බුදුරජාණන් වහන්සේ සක්දෙවිඳුට කතා කරලා, සක්දෙවිඳුන්ට වදාළා, දේවේන්ද්‍රය මාගේ ශාසනය ලංකාවේ පවතින්නෙ. ඔබ ලංකාව ආරක්ෂා කරන්න ඕන. මේ වෙනකොටය විජය කුමාරයා ලංකාවට සම්ප්‍රාප්ත වෙනවා, ඔහුව ආරක්ෂා කරන්න ඕන කියලා, ලංකාවේ බුද්ධ ශාසනය පවතින විදියට කටයුතු කලා. බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාන වෙලාවේ අධිෂ්ඨාන කලා ජයසිරිමහා බෝධීන් වහන්සේ ලංකාවට ගේනකොට ප්‍රාතිහාර්ය සිද්ධ වෙන ඒවා. රුවන්වැලි සෑයේ යමක මහා ප්‍රාතිහාර්යය සිද්ධ වෙන ඒවා. ථූපාරාමයේ ප්‍රාතිහාර්යය සිද්ධ වෙන ඒවා. ඔක්කොම පිරිනිවන් මංචකයේ අධිෂ්ඨාන කලා. එදා බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ ඒ බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් වැඩිපුරම හැඬුවෙ වැළපුනේ, අකලට මල් වරුසා දිව්‍ය මල් වරුසා වැස්සුවෙ දෙවිවරු. එදා බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාපු වෙලාවේ සියලු සංගීත භාණ්ඩ දිව්‍ය බෙර පැලී ගියේ දෙවියන් අතර. එච්චර ශෝකය. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ, බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී දේහය රන්සළුවෙන් ඔතලා ඒ රජවරු තීරණය කලා දකුණු දොරටුවෙන් වඩම්මන්න ඕන කියලා. ශ්‍රී දේහය උස්සන්න බෑ භාග්‍යවතුන් වහන්සේගේ. ඇයි ඒ, ශ්‍රී දේහය උස්සන්න බැරි. ඒ සාමාන්‍යයෙන් මනුස්ස ලෝකෙ දකුණු දොරටුවෙන් යනවා නම් කෙනෙක් යන්නෙ වැරදි කරපු කෙනෙක්. වැරදි කරපු කෙනෙක් තමයි දකුණු දොරටුවෙන් යවන්නෙ. ඒ දකුණු දොරටුවෙන් බුදුරජාණන් වහන්සේගේ දේහය ගෙනියනවාට අකමැති වුනේ කවුද, දෙවිවරු. උතුරු දොරටුවෙන් ගෙනියනවා කියලා යමක් ඇත්ද, ඒ කතාව එක සමතයකට ඇවිල්ලා උස්සනකොට තමයි උස්සන්න පුලුවන් වුනේ. බුදුරජාණන් වහන්සේගේ දේහයට ගිනි දල්වන්න හදනකොට දැල්වෙන්න දුන්නද. ගිනි දැල්වෙන්න දුන් නෑ. කවුද, දෙවිවරු. ඇයි ඒ? මහා කාශ්‍යප මහරහතන් වහන්සේ වඩිනකල්. මහාකාශ්‍යප මහරහතන් වහන්සේ ශ්‍රී දේහය වන්දනා කලාට පස්සෙ ඉබේ ඇවිලුන භාග්‍යවතුන් වහන්සේගේ චිතකය නිවුවේ ඉස්සෙල්ලාම මිනිස්සුද. දෙවිවරු අහසින් සුවඳ පැන් වැක්කෙරුවේ. පෘථිවි තොමෝ, මේ මිහිමඩල තමන්ගේ වෘක්ෂවලින් ජලය, වෘක්ෂ වල අගින් ජලය විහිදෙව්වා භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රී චිතකයට. සුවඳ කලවලින් රජවරුන් ගිහිල්ලා පැන් වැක්කෙරෙව්වා. ඊළඟට ධාතු බෙදන වෙලාවෙ එක එක ධාතූන් වහන්සේලා සක්දෙවිඳු දන්ත ධාතූන් වහන්සේ අරන් ගියා. මේ වගේ මේ

ඔක්කෝම කලේ දෙවිවරු නේද. ඉතින් තව කොච්චර තියෙනවාද, එකින් එක එකින් එක කියාගෙන ගියොත් මේ බුද්ධ ශාසනයේ දෙවියන් අතර සම්බන්ධය. අපිට මොකක්දෝ සංසාරයේ මහා පිනකට ලංකාවේ ද්‍රෝණයක් ධාතූන් වහන්සේලා රුවන්වැලිසෑයේ වැඩ ඉන්නවා. දළදා වහන්සේ වැඩ ඉන්නවා අපිට. අකු ධාතූන් වහන්සේ වැඩ ඉන්නවා. ග්‍රීවා ධාතූන් වහන්සේ වැඩ ඉන්නවා. උණ්ර්ණ රෝම ධාතූන් වහන්සේ වැඩ ඉන්නවා අපිට. දෙවිවරු තව්තිසාවටම සිළුමිණ සෑයට වඩිනවා. බ්‍රහ්මලෝකයම සළුමිණ සෑයට වඳිනවා. සමහර විට මේ සක්වලින් එහා බුදුරජාණන් වහන්සේගේ ධාතු විභාජන කතාවේ තියෙනවා, බුදුරජාණන් වහන්සේගේ රෝම කූප, කෙස්, සහ ඒ වගේම දන්ත ධාතූන් වහන්සේලා හතරනම හැර අනෙක් තිස්හයක් දන්ත ධාතූන් වහන්සේලා තියෙන්නෙ සක්වල වල කියනවා. ඒ කියන්නේ එක රෝම කූපයක් එක සක්වලකට. එක දන්ත ධාතූන් වහන්සේ නමක් එක සක්වලකට. එතකොට මුලු සක්වලේම දෙවියන් බඹුන් වන්දනා කරන්නෙ එක ධාතූන් වහන්සේ නමකට. මුලු සක්වලක දෙවියන් එක ධාතූන් වහන්සේ නමකට වැඳ වැඳ  ඉන්නවා මේ වෙනකොට. බුදුරජාණන් වහන්සේ දෙවි මිනිස්සුන්ට ශාස්තෘන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන්ම සත්තා දේව මනුස්සානං වන සේක. දෙවි මිනිස්සුන්ට නිවන් මාර්ගය කියලා දුන්නා. දෙවි මිනිස්සුන්ගේ දුගතිය වැළකෙව්වා. දෙවි මිනිස්සුන්ට සුගති සැප සලසලා දුන්නා. දෙවි මිනිස්සුන්ට අමා මහ සැපය සලසලා දුන්නා. ඊළඟට බුදුරජාණන් වහන්සේ දැන් පින්වතුනි, කුසල් උපද්දවාගන්න, අකුසල් දුරු කරගන්න යම් අනුශාසනාවක් තියෙනවා නම්, අපි හෝ දැන් අනුශාසනාවක් දෙනවා නම්, ඒ අනුශාසනාවේ පුරෝගාමී කවුද, භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ. දෙවියන්ටත් ඒ ගුණධර්ම දියුණු කරගන්න යම්කිසි අවවාද අනුශාසනාවක් ලැබෙනවානම් ඒ සියල්ලෙහි ඒ අනුශාසනාවේ පුරෝගාමියා කවුද? ඒ තථාගත බුදුරජාණන් වහන්සේ. ඒ කාරණයෙනුත් බුදුරජාණන් වහන්සේ සත්තා දේවමනුස්සානං වන සේක. ඉතින් පින්වතුනි බුදුරජාණන් වහන්සේ විශාරද ඥාණ තුළ පිහිටලා, දස බල ඥාණ තුල පිහිටලා, මේ සියලූම ඥාණයන්ගෙන් දෙවියන්ගෙත් මිනිස්සුන්ගේ සසර ගමන බල බලා දහම් දේශනා කලා. ඉතින් පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ ශාස්තෘත්වයට මේ ලෝකයේ කිසි කෙනෙකුට පින්වතුනි වචනයක් කියන්න බෑ. අපි උදාහරණයක් ගත්තොත් එහෙම, මේ ලෝකෙ ශාස්තෘන් වහන්සේලා ඉන්නවානෙ. දැන් මං උදාහරණයක් කියන්නම්, සූත්‍ර දේශනාවකින්. මේ සූත්‍ර දේශනාවේ නම කකුද

සූත්‍රය. අංගුත්තර නිකායේ පංචක නිපාතයේ තියෙන්නෙ. මේ කාලයේ භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටියේ කොසඹෑ නුවර ඝෝෂිතාරාමයේ. මුගලන් මහරහතන් වහන්සේගේ උපස්ථායකයෙක් වුන කකුද කියන කෝලිය පුත්‍රයා කළුරිය කලා. කළුරිය කරලා මනෝමය දිව්‍ය නිකායක ඉපදුනා ඔහු මාර්ගඵල ලාභී දෙවියෙක්. ඊටපස්සෙ මෙයාට විශාල ශරීරයක් තියෙනවා, මේ දිව්‍ය රාජයාට. මගධයේ කුඹුරු යායවල්, මගධයේ ගමකට අයත් සුවිශාල කුඹුරු යායවල් දෙක තුනක් තරම් එයාගේ ශරීරය විශාලයි. නමුත් කිසි කෙනෙකුට කරදරයක් නෑ. එච්චර විශාල ඇඟක් තිබ්බා කියලා ඔහුට කරදරයකුත් නෑ, අනිත් අයට කරදරයකුත් නෑ. ඉතින් මේ දිව්‍ය පුත්‍රයා දවසක් මුගලන් මහරහතන් වහන්සේ බැහැදකින්න ඇවිල්ලා වන්දනා කලා. වන්දනා කරලා කියා හිටියා ස්වාමීනී, දේවදත්ත සංඝයා පරිහරණය කරන්න, තමාගේ යටතට ගන්න කල්පනා කරන්නෙ. එහෙම කල්පනා කරනකොට දේවදත්තගේ සියලු ඍද්ධි පිරිහුණා කියලා කකුද දිව්‍ය පුත්‍රයා කිව්වා. දැන් බලන්න සංඝයා පරිහරණය කරන්න ඕන, සංඝයා තමන්ගේ යටතට ගන්න ඕන කියලා හිතනකොටම ඍද්ධි ඔක්කෝම නැතිවුනානෙ. ඉතින් මේ විස්තරය කියලා මේ දිව්‍ය පුත්‍රයා අතුරුදහන් වෙලා ගියා. මුගලන් මහරහතන් වහන්සේ ඒ දිව්‍ය පුත්‍රයා අතුරුදහන් වෙලා ගියාට පස්සෙ බුදුරජාණන් වහන්සේ මුණගැහෙන්න යනවා. බුදුරජාණන් වහන්සේට වන්දනා කරලා කියා හිටිනවා, ස්වාමීනී, මගේ උපස්ථායකයෙක් හිටියා, කකුද කියලා කෝලිය පුත්‍රයෙක්. ඔහු මැරිලා ගිහිල්ලා එක්තරා මනෝමය දිව්‍ය නිකායක ඉපදුනා මෙච්චර ශරීරයක් ඇතිව. ඔහුගෙන් කාටවත් කරදරයක් තියෙන කෙනෙක් නෙවෙයි. ඔහු මෙහෙම කතාවක් කිව්වානෙ. මේ දේවදත්ත සංඝයා පරිහරණය කරන්න හිතපු ගමන්ම ඔහුගේ ඍද්ධි නැතිවෙලා ගියා කියලා. ඉතින් ස්වාමීනී, භාග්‍යවතුන් වහන්ස, එහෙම කියලා ඒ දිව්‍ය පුත්‍රයා අතුරුදහන් වෙලා ගියා. බුදුරජාණන් වහන්සේ අහනවා මොග්ගල්ලාන, ඔය කකුද දිව්‍ය පුත්‍රයා කියන්නේ ඇත්තක්මයි ඕක වෙන විදියකට නෙවෙයි කියලා ඔබ හිත බැලුවද? ස්වාමීනී මං බැලුවා. රක්කසේතං මොග්ගල්ලාන, මුගලන් ඔය වචනය රකින්න. ඔය හිස් පුරුෂයාම තමාම ප්‍රකට කරයි. පින්වතුනි සාමාන්‍යයෙන් කෙනෙක්ගෙ වැරැද්දක් දෝෂයක් කුමන්ත්‍රණයක් දැක්ක ගමන්ම ක්‍රියාත්මක වෙන්න හොඳ නෑ. ක්‍රියාත්මක විය දේවලුත් තියෙනවා, නැති දේවලුත් තියෙනවා. දැන් බෝම්බයක් ගහන්න ප්ලෑන් කරලා තියෙද්දි, ඒක ඉක්මණට ක්‍රියාත්මක වෙන්න ඕන. සමහර දේවල් තියෙනවා ඒකට ඉක්මන් වෙන්න හොඳ නෑ. මොකද දැන් මේක කෙලින්ම

බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඔය වචනය රැකගන්න. ඔය හිස් පුරුෂයා තමන්ම පිරිස අතර ඕක කියනවා. දැන් මොකටහරි එයා ඒක ප්ලෑන් කරලනෙ තියෙන්නෙ. එතකොට එයා ඒක කිව්වොත් එහෙම, දේවදත්තට කිව්වොත් එහෙම ඔබ මෙහෙම හිතුවාද කියලා, මම එහෙම එකක් හිතුවෙ නෑ, දැන් ඔබ කියපු නිසා සංඝයා බෙදනවා කියලා ඊටපස්සෙ වෙන අර්බුදයක් ඇති කරනවා. ඒක අපි හිතපු එකක්. කොහොමහරි බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, ඒ වචනෙ තියන්න, ඒ හිස් පුරුෂයාම ඒක ප්‍රකට කරනවා. ඒ වෙලාවෙ බුදුරජාණන් වහන්සේ වදාළා, මොග්ගල්ලාන, ලෝකයේ ශාස්තෘවරු පස්දෙනෙක් ඉන්නවා. කවුද ඒ ලෝකයේ ඉන්න ශාස්තෘවරු. මං මේ සත්තා දේවමනුස්සානං කියන වචනයෙන්, උන්වහන්සේ දෙව් මිනිස්සුන්ට ශාස්තෘන් වහන්සේ. කොහොමද හොඳ ශාස්තෘන් වහන්සේ නමක් වෙන්නෙ කියලා මේ දේශනා කරන්නෙ. මේ ලෝකෙ එක ශාස්තෘන් වහන්සේ නමක් ඉන්නවා, ඒ ශාස්තෘන් වහන්සේගේ සීලය පිරිසිදු නෑ. එයාගේ ක්‍රියාවේ, සීලයේ කිසි පිරිසිදු බවක් නෑ. කහට තියෙනවා. වැරැදි අඩුපාඩු තියෙනවා. නමුත් එයා ලෝකෙට දහම් දේශනා කරමින් එයාගේ දර්ශනය දානවා. මං බොහොම හොඳ සිල්වතෙක්. මං මෙහෙමයි කියලා. එයාගේ අනුගාමිකයෝ ටික ගෝලයෝ ටික ශ්‍රාවකයෝ ටික දන්නවා අපේ ගුරුන් වහන්සේ අපේ ශාස්තෘන් වහන්සේ ලෝකෙට මං සිල්වත්, මං සිල්වත් කියාගෙන ගියාට එයාගෙ චරිතෙ දන්නෙ අපි. නමුත් ඕවා මිනිස්සුන්ට කියන්න ගියාට පස්සෙ මේ අපේ ශාස්තෘණ් වහන්සේ අපි ගැන කළකිරෙනවා. ඉතින් අර්බුද හදාගන්න ඕන නැහැනෙ. ඒ නිසා එයා කරන දේවල් එයාම ප්‍රකට කරගත්තාවෙ කියලා නිහඬව ඉන්නවා. එතකොට සීලය හේතු කරගනෙ ශ්‍රාවකයො විසින් ශාස්තෘන් වහන්සේ රකිනවා. ශාස්තෘන් වහන්සේත් සීලය හේතු කරගෙන ශ්‍රාවකයන්ගෙන් රැකවරණය බලාපොරොත්තු වෙනවා, කාටවත් කියන්නැති වෙයි කියන එක බලාපොරොත්තු වෙනවා. එතකොට ඒ දෙගොල්ලේ අතර සීලය මුල් කරගෙන බන්ධනයක් හටගන්නවා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා සීලය මුල් කරගෙන ගෝලයන්ගෙන් රැකවරණය බලාපොරොත්තු වෙනවා. තවද මොග්ගල්ලාන, තව ශාස්තෘවරයෙක් ලෝකෙ ඉන්නවා, එයාගෙ ජීවිකාව වැරදියි. මිච්ඡාජීවයෙන් ජීවත් වෙන්නෙ. එයා ජීවත් වෙන ක්‍රමය වැරදියි. ඒකනෙ දස පාරමිතා විස්තර කරනකොට අපි සෝමනස්ස කුමාරයාගේ කතාව කිව්වෙ. ඒ සෝමනස්ස කුමාරයාගෙ පියාණන් උපස්ථාන කරන ඒ තාපසයින් වහන්සේ ඒ රජවරු කවුරුත් එන්නැති වෙලාවට පිටිපස්සෙ කුඹුරක් හදාගෙන වගා

කරනවා. ඊටපස්සෙ වතුර අදිනවා. ඉතින් අර කුමාරයා ගිහිල්ලා කිව්වා, ඔබ පැවිද්දෙක් නම් මොකද මේ ගෘහපතියෙක් වගේ කියලා. ඊටපස්සෙ ඒකට ගැටුනානෙ. ඊටපස්සෙනෙ සෝමනස්ස කුමාරයා මරන්න මේවාකරන්නෙ. අපි ඒ ජාතක කතාව ඉගෙන ගත්තානෙ. එතකොට පින්වත්නි, දැන් මිත්‍යා ආජීවයෙන් ජීවත් වෙනවා. ඒ ශාස්තෘන් වහන්සේගේ ශ්‍රාවක පිරිස දන්නවා මෙයා මේ පිරිසිදු ආජීවයක් තියෙනවා, පිරිසිදුයි, නිර්මලයි, මං ලෝකෙ ශාස්තෘන් වහන්සේ කියාගෙන ගියාට මෙයා ජීවත් වෙන විදිය වැරදියි. නමුත් මෙයාලා කල්පනා කරනවා මේවා මිනිස්සුන්ට කියන්න ගියාට පස්සෙ ඇතුලෙ අර්බුද ඇතිවෙනවා. ඒ නිසා අපිත් ජීවත් වෙන්නෙ මේකෙන්. ඒ නිසා එයා කරන දේවල් එයා තුළින්ම ප්‍රකට වෙන්න ගිය දෙන් කියලා නිහඬව ඉන්නවා. ශිෂ්‍යයො ටික ශාස්තෘන් වහන්සේ රකිනවා. ඒ ශාස්තෘන් වහන්සේ ශිෂ්‍යන්ගෙන් බලාපොරොත්තු වෙනවා මගේ අඩුපාඩු අනිත් අයට කියන්නැති වෙයි කියලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා ආන්න පින්වත් මොග්ගල්ලාන, ඒ ශාස්තෘන් වහන්සේ ශ්‍රාවකයො ජීවිකාවෙන් ආරක්ෂා කරනවා. මෙබඳු වූ ශාස්තෘ වරයා ශ්‍රාවකයන්ගෙන් ජීවිකාවෙහි ලා රැකවරණය බලාපොරොත්තු වෙනවා. ඒ දෙගොල්ලො අතර බන්ධනයක් ඊටපස්සෙ ඇතිවෙනවා. කැඩීගෙන ගියොත් ප්‍රශ්නෙ. ගෝලයො ටික කඩාගෙන ගියොත් ආ මෙයාගෙ කැරැට්ටුව කියයි කියලා ප්‍රශ්නයක් තියෙනවා එතන. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා ඇතැම් අය නොපිරිසිදු ධර්ම දේශනා ඇති අය. ධර්ම දේශනාව පිරිසිදු නෑ. අර්බුද තියෙනවා. ඊටපස්සෙ ඒ ධර්ම දේශනාවෙ අපිරිසිදු බව තියෙනවා. නමුත් මෙයා දේශනා කරනවා මේකයි නිර්මල ධර්මය, පිරිසිදු ධර්මය, මට අවබෝධ වුනු ධර්මය. දැන් අපිට, අපි අහලා තියෙනවා පින්වතුනි සමහර අය ලොකු ධර්ම කතා දෙනවා කොහෙන්හරි පොතකින් මොනවහරි ටිකක් බලාගෙන ඇවිල්ලා දෙනවා. එයා කියන්නෙ මට අවබෝධ වුනා කියලා. දැන් ඔය වාගේ දේවල්නේ සිද්ධ වුනේ බ්‍රාහ්මණ දහමට. නිගණ්ඨ දහමේ පින්වතුනි ආර්ය අෂ්ටාංගික කියන වචනෙත් අද නිගණ්ඨ දහමට දාලානෙ. බමුණො කතා කරන දහම එහෙමනෙ. ඉතින් බ්‍රාහ්මණයන්ගේ දහමේ පොතක්නෙ පංච තන්ත්‍රය. විශ්ම ශර්මන් ලියපු පංච තන්ත්‍රය, බමුණු දහමේ ඒ රාජ නීති උගන්වන්න හැදුවෙ. ඒකෙ තියෙන ඔක්කොම ටික ජාතක කතානෙ. කොහොමද ජාතක කතා ටික බමුණු දහමට දාපු හැටි. එයාලාගේ අවබෝධයක් විදියට දහම දේශනා කරනවා. ඉතින් ශ්‍රාවකයො දන්නවා මෙයාගෙ උප්පරවැට්ටිය මේකයි කියලා, එයාලගේ ධර්මය දේශනා කරන

කෙනාගෙ. නමුත් කල්පනා කරනවා මේවා කියන්න ගියාම ඇතුලෙ අර්බුද. ඒ නිසා එයා කරන දේම එයා ප්‍රකට වේවා කියලා නිහඬව ඉන්නවා. එතකොට එතන ශාස්තෘන් වහන්සේ ගෝලයන්ගෙන් ආරක්ෂාවරණය බලාපොරොත්තු වෙනවා. ඒ ධර්ම දේශනාව මුල් කරගෙන ගෝලයෝ ශාස්තෘන් වහන්සේ රකිනවා. ඉතින් මේ වාගේ තැනක ගෝලයෝ කැඩීගෙන ගියාට පස්සෙ ලොකු අර්බුදයක් ඇතිවෙනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ, දැන් මේ කියන්න හදන්නේ බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ, මේ ශ්‍රාවක සංඝයා ඔක්කෝම එක පැත්තකට ගියත් ශාස්තෘන් වහන්සේට කිසිම ප්‍රශ්නයක් නෑ. කියන්න වැරැද්දකුත් නෑ අපේ බුදුරජාණන් වහන්සේ ගැන. ඒ නිසා දේවදත්තට සංඝයා බෙදලා මොනවද දේවදත්තට ලබන්න තියෙන්නෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සමහර අය ඉන්නවා තව ශාස්තෘන් වහන්සේ නමක්, නොපිරිසිදු කතා ව්‍යවහාර ඇත්තෙක්. ඔහුගේ භාෂා ව්‍යවහාරය, කතාව, කතා කරන විදිය. දැන් බලන්නකො බුදුරජාණන් වහන්සේගේ කතා ව්‍යවහාරයේ තියෙනවානේ බුදුරජාණන් වහන්සේ සිදු වූ දෙයක්, සත්‍ය දෙයක්, අර්ථවත් දෙයක්, කාලානුරූපවනෙ, අන් අය අප්‍රිය වුනත් අමනාප වුනත් කාලානුරූපවනෙ කතා කරන්නෙ. ඔය විදියට කතා කරන ශාස්තෘවරු ලෝකෙ කවුද ඉන්නෙ. තැන නොතැන බලලා කතා කරන, සත්ත්වයාට අනුකම්පාවෙන් කතා කරන, කතා කරන වචනයේ බොරුව, කේලම, හිස්වචනය, පරුෂ වචනය නැති, අකුරක් නැර සත්‍යය තියෙන වචන තියෙන්නේ කාටද. ඉතින් එහෙම නැති අය ඒ කතා කියනකොට ගෝලයො දන්නවා මෙයා මේ කියාන ගියාට මෙයාගෙ වචන වල තියෙනවා අර්බුදයක් කියලා. මේ වචන වල බොරු තියෙනවා, මේ වචන වල කේලම් තියෙනවා, අනිත් අයගෙ හිත රිදෙන ඒවා තියෙනවා, අර්බුද ඇතිවෙන ඒවා තියෙනවා, ඊටපස්සෙ එයාලා රකිනවා. මොකද ඇතුලේ අර්බුද ඇතිවෙයි කියලා. ඉතින් ගෝලයෝ ශාස්තෘන් වහන්සේ රකිනවා. ශාස්තෘන් වහන්සේ ශ්‍රාවකයො රකිනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා, ඔය වචන මුල් කරගෙන, ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා යම් ශාස්තෘවරයෙක් ඉන්නවා නොපිරිසිදු ඥාණ දර්ශනය ඇති අය. ඥාණ දර්ශනයක් නෑ. එයා කියනවා මට අහසින් යන්න පුලුවන්. අරක කරන්න පුලුවන්. මේක කරන්න පුලුවන්. මගේ ඥාණය හැම තැනම ඉඳින හිටින හැම වෙලාවෙම මගේ ඥාණ දර්ශනය තියෙනවා කියලා එයා කියනවා. නමුත් ගෝලයෝ දන්නවා මෙයාට ඉඳගන්නකොට නෙවෙයි වැසිකිළි යනකොටවත් ඥාණයක් නෑ මෙයාට කියලා.

නමුත් මිනිස්සුන්ට මේක මෙයාලා කියන්නෑ. කිව්වොත් ඇතුලෙ අර්බුද ඇතිවෙනවා. එයා කරන දේම ප්‍රකට වේවා කියලා ඉන්නවා. මේ විස්තරේ කියන් නෑ. එතකොට ඒ ශාස්තෘන්වහන්සේ ශ්‍රාවකයන්ගෙන් රැකවරණය බලපොරොත්තු වෙනවා. මේවා පිටට මෙයාලා කියන්නැතිවෙයි කියලා. ඒ ගෝලයො ටිකත් ශාස්තෘන් වහන්සේව රැක රැක ඉන්නවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කලා ඒ වුනාට මොග්ගල්ලාන මේ විදියට ශාස්තෘවරු පස්දෙනෙක් ඉන්නවා. කවුද ඒ? සීලය හරි නෑ. ධර්ම දේශනාව හරි නෑ. ඊළඟට එයා කතා කරන වචන හරි නෑ. ඒ වගේම එයාගේ ඥාණ දර්ශනය අපිරිසිදුයි. ආජීවය අපිරිසිදුයි. මේ පහ. එතකොට මේ පහෙන් අනිවාර්යයෙන් බුදු කෙනෙක් හැරෙනකොට මේ ලෝකයේ යම් ආගමික නායකයෙක් ඉන්නවාද ඒ සියලු ආගමික නායකයන්ගේ මෙන්න මේ සියලු දෝෂ කොතනහරි තියෙනවා. කොතනකහරි තියෙනවා. ඉතින් ඒ නිසානෙ ඔය සමහර ආගමික ග්‍රන්ථ නැවත සංශෝධනය කරන්නෙ. අපේ බුදුරජාණන් වහන්සේගේ ධර්මයේ සංශෝධන නෑනෙ. සංශෝධන කරනවා. සමහරවෙලාවට එයාලගේ භාෂාවෙන් එක ආගමික පොතක්. සිංහලයට දැම්මොත් වෙන පොතක්. මේ බුද්ධ ශාසනය භාෂා සීයයකට පරිවර්තනය කලත් ඒවං මේ සුතං ඒකං සමයං භගවා, ඒවං මේ සුතං ඒකං සමයං භගවා. දැක්කද, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මොග්ගල්ලාන මම වනාහි පිරිසිදු සිල් ඇති ශාස්තෘවරයෙක්. පිරිසිදු සිල් තියෙනවා කියලා මම ප්‍රතිඥා දෙන කෙනෙක්. මගේ සීලය පිරිසිදුයි බබලනවා, කිලිටි නෑ. ඒ නිසා මාව රකින්න ඕන නෑ කියනවා කවුරුත්. මම නිසා ශ්‍රාවකයො ඉන්නවාවත්, ශ්‍රාවකයො නිසා මාව රකින්න ඕන කියලා හැඟීමක් නෑ. බුදුරජාණන් වහන්සේ ශ්‍රාවකයන්ට ඇලිලා නෑ. බැඳිලා නෑ. මා උදෙසා මා වෙනුවෙන්ම ශ්‍රාවකයො සිටිත්වා කියලා සිතිවිලි මාත්‍රයක් බුදුරජාණන් වහන්සේ ළඟ නෑ. බුදුරජාණන් වහන්සේගේ අඩුපාඩුවක් කාටවත් කියන්නත් බෑ. දැකලත් නෑ. එහෙම එකක් ඇත්තෙත් නෑ. සීලය මුල් කරගෙන. බුදුරජාණන් වහන්සේගේ ජීවිකාව, බුදුරජාණන් වහන්සේගේ ආජීවයේ අංශුමාත්‍රයක දෝෂයක් තියෙන තැනක් දකින්න නෑ, පිරිසිදුයි. භාග්‍යවතුන් වහන්සේ ලෝකෙට ප්‍රතිඥා දෙනවා මම පිරිසිදු ආජීවයෙන් යුක්තයි කියලා. කාටවත් දොස් කියන්න බෑ. දෙවි කෙනෙකුටවත්, බ්‍රහ්මයෙකුටවත් බුදුරජාණන් වහන්සේගේ ආජීවයේ දෝෂයක් දකින්න බෑ. සිල් ඇති භික්ෂූන් වහන්සේ නමක් මලක සුවඳ ඉඹිනකොට දෙවිවරු කියනවා අන්න හොරකම් කලා නේද කියලා. කවදාවත් බුදුරජාණන් වහන්සේට කිසිම තැනක සීලයෙන් හෝ

ආජීවයෙන් හෝ දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකෙ කිසි කෙනෙකුට බෑ. ඒ නිසානෙ මාරයා අවුරුදු හතක් පියවරක් පාසා පිටිපස්සෙ ඇවිල්ලා එක වැරැද්දක් හොයාගන්න නෑනෙ. කියනවානෙ, මං මේ කපුටෙක් මස් කෑල්ලක් කියලා හිතලා තෙල් පාට ගලකට රැවටිලා කොටලා වාගේ මම ඔබවහන්සේගේ වැරදි හොයන්න ඇවිල්ලා රැවටුනේ කියනවා. මාරයාගේ වීණාව බිම වැටෙනවානෙ. වීණාව දාලනෙ යන්නෙ මාරයා. ඒක සක්‍රයා අරන් පංචසිකට දුන්නා කියනවා. එතකොට බලන්න වරදක් බුදුරජාණන් වහන්සේගේ ජීවිකාවෙ දකින්න බෑ. ඊළඟට බුදුරජාණන් වහන්සේට පිරිසිදු ධර්ම දේශනා තියෙනවා. බුදුරජාණන් වහන්සේගේ ධර්ම දේශනාව දස බල ඥාණ තුල පිහිටලා, විශාරද ඥාණ තුළ පිහිටලා, සර්වඥතා ඥාණ, ෂඩ්අසාධාරණ ඥාණ, ඊළඟට නවඅරහාදී බුදුගුණ, සම්බුදු ඥාණ තුළ පිහිටලා බුදුරජාණන් වහන්සේ දහම් දෙසන්නේ. කාටද සමාන කරන්න පුලුවන්. ශ්‍රාවකයන්ගෙන් ආරක්ෂාව බුදුකෙනෙකුට ඕන නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගේ කතා ව්‍යවහාරයේ පිරිසිදු බව, ලෝකෙට ප්‍රතිඥා දීලා තියෙන්නෙ. ඒකනේ අභයරාජකුමාර සූත්‍රයේ තියෙන්නෙ බුදුරජාණන් වහන්සේ සිදු නොවුනු දෙයක් කවදාවත් කියන් නෑ, අනර්ථකාරී දෙයක් කියන් නෑ. බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නේ සිදුවූ, සත්‍ය, ඒ වගේම අර්ථවත්, මිනිස්සු ප්‍රියමනාප වුනත්, අප්‍රිය වුනත්, වෙලාවට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා. එක සෑම වචනයකම තියෙන්නෙ සත්‍යය. බොරුව නෑ, කේලම නෑ, හිස් වචන නෑ, පරුෂ වචන නෑ. සෑම අකුරකම බුදුරජාණන් වහන්සේගේ තියෙන්නෙ සත්‍යය. සියලු දෙව් මිනිසුන් අතර ප්‍රකාශ වෙලා තියෙන්නෙ. දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකෙ කිසි කෙනෙකුට දෝෂයක් දකින්න බෑ. දෙව් මිනිස්සුන්ට ශාස්තෘන් වහන්සේ ඒ නිසා. බය නැතිව දස බල ඥාණ තුළ පිහිටලා, විශාරද ඥාණ තුළ පිහිටලා බ්‍රහ්ම විමානෙ බ්‍රහ්මයන්ට දහම් දෙසනවා. ඔවුහු මාර්ගඵල ලබනවා. දිව්‍යවිමානයේ පාණ්ඩුකම්බල ශෛලාසනයේ ඉඳලා දහම් දෙසනවා දෙව්වරුන්ට. ඒ ධර්මය ශ්‍රවණය කරලා මාර්ගඵල අවබෝධ කරනවා. නාග විමානයේ නාගයන් අතර දහම් දෙසනවා. ඔවුන් සරණේ පිහිටනවා. මිනිසුන් අතර, රජවරුන් අතර දහම් දෙසනවා. ඒ සියලු දෙනා මාර්ගඵලයට පත්වෙනවා. ධර්මය අවබෝධ කරනවා. බුදුරජාණන් වහන්සේගේ වචන. ඒකස්මිං බ්‍රහ්මචරියාස්මිං සහස්සම්මච්චුහායිනා, එක වචනයක රහතන් වහන්සේලා දාහක් වැඩ ඉන්නවා. සහම්පති බ්‍රහ්මරාජයා කියන්නෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ ඥාණ දර්ශනය. බුදුරජාණන් වහන්සේගේ ඥාණය,

අපි විජ්ජාචරණ ගුණය ඉගෙන ගත්තෙ. දස බල ඥාණ, විශාරද ඥාණ, ෂඩ්අසාධාරණ ඥාණ, සම්බුද්ධ ඥාණ, සර්‍වඥතා ඥාණ, අනන්ත ඥාණ, සම්බුද්ධ ඥාණ තුළ පිහිටලා දහම් දෙසන්නෙ. ගෝලයෝ මොකට රකින්නද. ශ්‍රාවකයො මොකට රකින්නද. ඒ නිසා පින්වත් මොග්ගල්ලාන, තථාගතයන් වහන්සේ ශ්‍රාවකයන්ගෙන් ආරක්ෂාව බලාපොරොත්තු වෙන්නෙ නෑ. දැන් දේවදත්ත කඩන්නනෙ හදන්නෙ. දේවදත්ත රිද්දන්නනෙ හදන්නෙ ශාස්තෘන් වහන්සේ, පිරිස කඩාගෙන ගිහිල්ලා. භාග්‍යවතුන් වහන්සේ අසරණ කරවන්නනෙ හදන්නෙ. කොහෙ කරවන්නද. අන්න ඔය සියලු ගුණයන්ගෙන් පරිපූර්ණ ශාස්තෘන් වහන්සේ නමක් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. සියලු ගුණයන්ගෙන් පරිපූර්ණයි. අර සඳුන් පාත්‍රය උණ ගහේ තියෙනකොට අහසින් යන්න කියලා කියනකොට නිගණ්ඨනාතපුත්‍ර කිව්වා, මං උඩට යන්න වාගෙ හදනකොට උඹලා ඇවිල්ලා ඇදගෙන පලයල්ලා යන්න එපා කියලා. එහෙමනෙ රැක්කෙ එයාව. අපේ තථාගත බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ එහෙම හොර වැඩ නෑ. චපලකම් නෑ. බොරු නෑ. තියෙන්නේම සත්‍යය. බුද්ධ ශාසනේ කියන්නෙ සත්‍යයට. බුදුරජාණන් වහන්සේ කියන්නෙ සත්‍ය නාම. බුදුරජාණන් වහන්සේට කියන නමක් තමයි සත්‍යය. බුදුරජාණන් වහන්සේගේ නමක්. එච්චර ශාස්තෘන් වහන්සේ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ගැන කවර කතාද. සාරිපුත්ත මොග්ගල්ලාන ආදී ශ්‍රාවකයන් වහන්සේලා, සිරිමත් බඹ සිරසෙහි පා පිසිනා සැරියුත් මහමුගලන් පිළිවෙලිනා. ඒ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක සංඝරත්නය මහා බ්‍රහ්මයාගේ හිසේ පා පිසින අය. බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ ශ්‍රාවිකාවො මේ ඇඟිලි දෙකේ නුවණ තියෙනවා කියලා ලෝකෙන් බැණුම් අහන කාන්තාවො අර්හත්වයට පත්වුනාට පස්සෙ මහා බ්‍රහ්මයා යශෝදරාව ආදී උත්තමාවියන්ගේ පා ළඟ දණින් වැටුනා. බුදුරජාණන් වහන්සේ දෙව් මිනිස්සුන්ට ශාස්තෘන් වහන්සේ. ඒ නිසා දිව්‍ය ලෝකෙට ඔබ බය වෙන්න එපා. දෙවියන් අතරට යන එකට ඔබ බය වෙන්න එපා. මනුස්ස ලෝකෙ එක එක ආගම් වලින් මේ මනුස්ස ලෝකෙ කිලිටි වෙලා තියෙන්නෙ. දෙව්ලොව සෑම දිව්‍ය විමානයකටම හඬක් පැතිරිලා යනවා ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට නමස්කාර වේවා කියලා. ඔවුනු දිව්‍ය සුදම් දහම් සභාවේ ධර්මය කතා කරද්දි ඒ දෙවිවරු එක රොත්තට එකතු වෙනවා. සහම්කුමාර බ්‍රහ්මරාජයා ආකාසයේ පහළ වෙලා කුමාර ස්වභාවයෙන් ඒ දෙවිවරුන්ට සතර සතිපට්ඨානය ගැන දහම් දෙසනවා. ඒවා මේ සූත්‍ර වල තියෙනවා පින්වතුනි ඒවා එහෙම කෙරෙන බව. ඒ විස්තර

ඇවිල්ලා බුදුරජාණන් වහන්සේ ළඟ කියනවා ජනවසභ දිව්‍යපුත්‍රයා මෙහෙම වෙනවා දිව්‍ය ලෝකෙ කියලා. ඒ අනුසාරයෙන්වත් ශ්‍රාවකයො ඒවා තේරුම් ගන්න. ඒ නිසා තේරුම් ගන්න අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ මං මාගේ ශාස්තෘන් වහන්සේ කියලා මම කියනවා වාගේ සක්දෙව්දුත් බුදුරජාණන් වහන්සේට කියන්නෙ මාගේ ශාස්තෘන් වහන්සේ කියලා. බ්‍රහ්මයන්ගේ පවා මාගේ ශාස්තෘන් වහන්සේ. මේ ලෝකයේ තිසරණ සරණ ගිය පින්වන්ත කෙනෙක් ඉන්නවා නම් ඒ සියලු දෙනාගේම ශාස්තෘන් වහන්සේ ලොව්තුරා සම්මා සම්බුදු රජාණන් වහන්සේ. මම සරණ ගිය බුදුරජාණන් වහන්සේ සියලු දෙව් මිනිස්සුන්ට එකම ශාස්තෘන් වහන්සේ වන හෙයින්, සියලු දෙව් මිනිස්සුන්ට නිවනට මග කියන හෙයින් ඒ තථාගත බුදුරජාණන් වහන්සේ සත්තා දේවමනුස්සානං වන සේක. ඒ තමයි උතුම් සම්බුදු ගුණය. ඒ නිසා පහදින්න. මුලු හදවතින්ම බුදුරජාණන් වහන්සේ සරණ යන්න. මුළු හදවතින්ම ශ්‍රී සද්ධර්මය සරණ යන්න. මුලු හදවතින්ම ආර්ය මහා සංඝ රත්නය සරණ යන්න. ගුණ හිත හිතා සරණ යන්න. ඔබගේ ජීවිතය සුවපත් වෙනවා, ඔබ දුකින් නිදහස් වෙන්න සුදුසුකම් ලබනවා. ඒ නිසා සත්තා දේවමනුස්සානං වූ දෙව් මිනිස්සුන්ට ශාස්තෘ වූ බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු ගුණ බලයෙන් ඔබ සියලු දෙනාට සෙත් වේවා.

අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ මාතර පදිංචි පින්වත් පිරිසක් විසින්. අපි සියලු දෙනා රැස් කරගත්ත පින, ධර්ම දානයෙන් රැස් කරගත්ත පින, ඒ වගේම අපගේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ සියලු දෙව් මිනිස්සුන්ගේ ශාස්තෘන් වහන්සේ, ඒ ආනුභාවයෙන්, පින් වල ආනුභාවයෙන්, සියලු දෙවියන්ගේ උපකාරයෙන් මේ ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ කොරෝනා වසංගතය දුරින්ම දුරු වේවා. මනුස්ස වර්ගයාට සියලු යහපත වේවා, නිදුක් නිරෝගී සුව සැලසේවා. බියක් සැකක් නැතිව සුවසේ මිනිස්සුන්ට ජීවත් වෙන්න සත්තා දේවමනුස්සානං සම්බුදු ගුණයේ අනුහසින් මේ පින් බලයේ අනුහසින් සත්ත්ව වර්ගයාට සියලු යහපත වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරමු. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙලා සියලු දෙව් මිනිස්සුන්ට ශාස්තෘ වූ බුදුරජාණන් වහන්සේගේ ගුණ කියූ පින සතුටින් අනුමෝදන් වේවා. ඔබ ඒ සියලු දෙවියන්ටත් ගෞතම සසුනේ පිහිට ලබාගන්න, නිවනින් සැනසෙන්න මේ පින් හේතු වාසනා වේවා. ඒ වගේම පරම පූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි අපිට මේ අසිරිමත් සම්බුදු ගුණ

කතා කරගන්න ශ්‍රවණය කරගන්න හිත පහදවගන්න මනසිකාර කරන්න භාවනා කරන්න ලැබුනෙ. පරමපූජනීය ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම ස්වාමීන් වහන්සේලාටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් මේ පින් බලයෙන් උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ වේවා. මැයි මස 28 වන දිනට 73 වෙනි උපන්දිනය යෙදෙන, සපිරෙන ආර්.ජී. ගුණපාල පියාණන්ට මේ පින් අනුමෝදන් වේවා, අනුමෝදන් වේවා. ගුණපාල පියාණන් නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, ඒ වාගේම ගුණපාල පියාණන්ට ගෞතම සසුනේ පිහිට ලබාගන්න වාසනාව ලැබේවා. මාතර ඒ පින්වතුන් සියලු දෙනාටත්, ඒ වගේම ඔබ සියලු දෙනාටත්, මව් දෙමව්පිය, ඥාති බන්ධුමිත්‍රාදීන්ටත්, ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලිය කාර්ය මණ්ඩලයේ දරුවන්ට, දායකත්වය සපයන සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් දෙව් මිනිසුන් හට හිතසුව පිණිස භාග්‍යවතුන් වහන්සේ යම් ධර්මයක් දේශනා කලා නම් ඒ උතුම් ධර්මය අවබෝධ කරගැනීම පිණිස උතුම් සම්බුදු සරණේ පිහිට ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=YYNz7uYdo9w&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=27

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සමග අද ඔබ මේ එකතුවෙලා ධර්මය අහන්නෙ. බුදුරජාණන් වහන්සේ නමක් ලෝකෙට පහළ වෙන්නෙ කලාතුරකින්. ශ්‍රී සද්ධර්මය ලෝකෙට පහළ වෙන්නෙ එහෙනම් ඒත් කලාතුරකින්. ආර්ය මහා සංඝ රත්නය ලෝකෙට පහළ වෙන්නෙත් කලාතුරකින්. දැන් බුදුරජාණන් වහන්සේලා කල්ප අසංඛෙය්‍යක් ලෝකෙ පහළ වුන්නෑ කියන්නෙ, එහෙනම් අපි මෙච්චර කාලයක් කතා කරපු බුදු ගුණ කතා කරන්න පුලුවන්ද? එතකොට බුදුරජාණන් වහනසේලා දුර්ලභයි වගේම මේ ධර්ම දේශනාත් දුර්ලභයි. අතිශයින් දුර්ලභයි. ඒක සසර ගැන දන්න ඒ බුදුරජාණන් වහන්සේලා පහළ වෙච්ච විදිය බුදුවරු නැති කල්ප වල ස්වභාව දන්න කෙනෙකුට බුද්ධ කියන වචනයෙන් පවා හරියට ප්‍රීතිය උපදිනවා. ඔය බුද්ධ කියන වචනය අහලම නේද සුදත්ත කියන සිටුතුමාගේ ඇඟේ රෝමෝද්ගමනය වුනේ. මහරාත්‍රියේ සොහොනට ගියෙ. කප්පිණ රජතුමා ඔය බුද්ධ කියන උතුම් වචනය අහලම නේද ආපහු මාළිගාවට නොයා අසුපිටින් ගංගා තුනක් තරණය කරලා බුදුරජාණන් වහන්සේ සොයාගෙන ආවෙ. බුද්ධ කියන වචනය පවා ශ්‍රේෂ්ටයි. ඉතින් ඒ නිසා ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් බුදුගුණ කඳින් අද අපි බුද්ධ කියන ගුණයමයි ශ්‍රවණය කරන්නෙ. මේ ධර්ම දේශනාව ශ්‍රද්ධා රූපවාහිනියෙනුත් හා ලක්විරු ගුවන්විදුලියෙනුත් පටිගත කරවලා විකාශනය කරවන්නට දායකත්වය දරන්නේ පින්වත් අචිනි ශෂිකලා මහත්මිය සහ ප්‍රමෝෂ ඉඳුනිල් වීරසිංහ මහත්මයා විසින්. කැලෑමුල්ල මධුරගොඩ පදිංචි දැනට කොරියාවේ සේවයේ නියුතු මේ පින්වතුන් දෙපල අද මේ ධර්ම දානයෙන් අප්‍රමාණ පිනක් රැස් කරගන්නවා. අපේ බුදුරජාණන් වහන්සේ බුදුරජාණන් වහන්සේ කියලා කිව්වට මොකක්ද මේ බුද්ධ කියන්නෙ. බුද්ධං සරණං ගච්ඡාමි කියලා අපි බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා ඒ සරණ යන බුද්ධ කියන වචනයේ අර්ථය, බුද්ධ කියන වචනයේ තියෙන ගුණ සමුදාය අද දවසේ අපිට ඉගෙන ගන්න ලැබෙනවා. ඉතින් ධර්ම දානය දෙන පින්වතුන් සන්තෝෂයට පත්වෙන්න අන් අයට මේ අසිරිමත් කාරණා අහන්න සලස්වන එක ගැන. ඉතින් පින්වතුනි, මා කිව්වා වගේ ඒ කාලයේ පින්වන්තයන්ට බුද්ධ කියන වචනය ඇහිච්ච ගමන් ඇඟේ රෝමෝද්ගමනය වුනා. සමහර වෙලාවට දෙතුන් පාර

අහනවා බුද්ධෝති වදේසි - බුදුරජාණන් වහන්සේ කියලද මේ කිව්වෙ? කියලා තුන් හතර පාර අහනවා. ඒ බුද්ධ කියන වචනය හිතාගන්නවත් බෑ. ඉතින් ඒ නිසා, ඇයි දැන් නාලක බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් ඉස්සෙල්ලාම පැවිදි වුනේ. බුදුරජාණන් වහන්සේ සිදුහත් කුමාරයා විදියට ඉපදිලා දවස් පහයි. අසිත තාපසතුමා ගිහිල්ලා තමන්ගේ නැගණියගේ පුතාට තමයි කිව්වෙ නාලකට නාලක, මේ ලෝකයේ අනාගතයේ සියලු දෙනා දුකින් නිදහස් කරවන මුණිවරයෙක් මෙතනින් අවුරුදු තිස්පහක් ගියාට පස්සෙ පහළ වෙනවා. එතකොට අසිත තාපසතුමාගෙ ඥාණය කොහොමද හරියටම බුදුරජාණන් වහන්සේ අවුරුදු තිස්පහෙන් බුදුවෙනවා කියලා අසිත තාපසතුමා දන්නවානෙ. කියනවා අවුරුදු තිස්පහක් ගිය තැන ලෝකයේ සම්බුදුවරයෙක් පහළ වෙනවා. එතකොට ඒ උත්තමයන් වහනසේ ධර්ම චක්‍රය දේශනා කලාට පස්සේ මේ ලෝකයේම පැතිරිලා යනවා බුද්ධ කියන වචනය. නාලක, උඹ මහණ වෙනින්. ඒ උත්තමයා උදෙසා පැවිදිවෙලා උඹ ගෘහ ජීවිතය අත්හැරලා උන්වහන්සේ වෙනුවෙන් ඉඳපං. නාලක උඹටත් කණට ඇහෙයි බුද්ධ කියන වචනය. ආං එදාට ඒ උත්තමයා ළඟට ගිහිල්ලා ඒ මුණිදහම අහපං. හරී පුදුම සහගත දෙයක්. ඉතින් අවුරුදු තිස්පහක් අර නාලක හිටියනෙ බුද්ධ කියන වචනය ඇහෙනකල්. එදාම පැන් කෙණ්ඩියක් අරන්, කසාවතක් අරන්, අතට පාත්‍රයක් අරගෙන අනාගතයේ පහළ වෙන බුදුරජාණන් වහන්සේ උදෙසා මාගේ පැවිද්ද වේවා කියලා නාලක පැවිදි වුනේ, සිදුහත් කුමාරයා ඉපදිලා දවස් පහයි. ඒ බුද්ධ කියන වචනය ඇහෙනකල්. ඊටපස්සෙ ඔය වගේම තව සිද්ධියක් තියෙනවා. ශාක්‍ය කුලයේ කුමාරයෙක් ඉපදුනා ඒ ශාක්‍ය රාජ මාතාවකට කුසට දරුවෙක් ආවා, ඇයට දොළ දුකක් හැදුනා කැළයක යන්න. එතකොට ඔන්න මහා කැළේ ඇවිදින්න ආසයි. කැළේ ඇවිදින්න ආසාවට කැළේ ඇවිදිනකොටම දරුවා බිහිවෙන්න අමාරුවුනා. ඊටපස්සෙ දරුවා ඉක්මණට කොළ අතු ටිකක් කඩලා අම්මා නිදි කරවලා දරුවා බිහිකරවලා දරුවා වඩාගන්න රෙද්දක් නෑ. ඒ කැළේ ඇවිදිනකොට කලින් තාපසයෙක් අයින් කරපු සිවුරක් තියෙනවා. කහපාට වස්ත්‍රයක්. ඒ සිවුරට තමයි දරුවා ගත්තෙ ඉස්සෙල්ලාම. ඊටපස්සෙ ඒ දරුවා සිවුරු රෙද්දෙන් ඔතාගෙන මාළිගාවට අරගෙන ආවා, ඒ පුත්‍රයාගෙ නම වච්ඡ. සිදුහත් කුමාරයාගේ යාළුවා. සිදුහත් කුමාරයා අවුරුදු විසිනවයෙන් අභිනිෂ්ක්‍රමණය කලාට පස්සෙ මොහුත්, මොහුට දැන් හිතුනා අනාගතයේ බුද්ධ කියලා කෙනෙක් වෙනවා සිද්ධාර්ථයන්. මාත් උන්වහන්සේ උදෙසා මාගේ පැවිද්ද වේවා කියලා ඔහුත් හොරෙන් ගෙදරින් ගියා හිමාලයට. කැළේම ජීවත්

වුනා. කැලේ ජීවත් වෙලා අර වච්ඡයන් වහන්සේ ඔන්න මහා කස්සප මහරහතන් වහන්සේ, දැන් ඔන්න අවුරුදු ගාණකට පස්සෙනෙ ඒ කියන්නෙ. අවුරුදු හත අටකට පස්සෙනෙ. ඒ කියන්නෙ අවුරුදු හත අටක් හිමාලයේ හිටියා, බුද්ධ කියන වචනය ඇහෙනකල්. ඊටපස්සේ මහාකාශ්‍යප මහරහතන් වහන්සේ හිමාලයට වැඩියා. එතකොට අර හිමාලයේ වෙනම පැවිදි ජීවිතයකින් ඉන්නවා කෙනෙක්. ඊටපස්සෙ මහා කාශ්‍යප මහරහතන් වහන්සේගේ සොඳුරු ඉරියව් දැකලා ඇහුවා ඔබ වහන්සේ කවුද? ඊටපස්සෙ කිව්වා මට කියන්නේ කස්සප. ඔබවහන්සේ කවුරු උදෙසා ද පැවිදි වුනේ. ඒ භාග්‍යවත් අර්හත් බුදුරජාණන් වහන්සේ උදෙසා කිව්වා. බුද්ධ කියන වචනය ඇහෙනකොට රෝමෝද්ගමනය වුනා. ඒ උත්තමයා කපිලවස්තුවේ සිද්ධාර්ථ කුමාරයාද කිව්වා, ඔව් කිව්වා. ඒ උත්තමයා කොහෙද දැන් වැඩඉන්නේ? ආන්න අහවල් දිසාවේ වැඩ ඉන්නවා. හොයාගෙන ආවා. පැවිදි වුනා. උන්වහන්සේ ධර්මය ඇහුවා, අර්හත්වයට පත්වුනා. ආයෙත් වනයටම ගියා. ඒ වනාහි වනවච්ඡ මහරහතන් වහන්සේ. බුද්ධ කියන වචනය සොය සොයා ගිය අය. ඒ නිසා අපිට සිංහල ජාතියත්, ඊළඟට බෞද්ධ දහම තියෙන අපිටනේ ඇහෙන්නෙ බුද්ධ කියන එක. අපිට ඒ බුදුරජාණන් වහන්සේ සරණ ගියාට පස්සේ ඒ බුද්ධ කියන වචනය තුළ ගොඩාක් දේවල් හිතට දැනෙනවා. ඉතින් අපේ බුදුරජාණන් වහන්සේගේ නව අරහාදී බුදු ගුණ සිහි කර කර ඉන්න ගමනේ අපිටත් බුදුරජාණන් වහන්සේ බුද්ධයි කියලා ගුණ සිහි කරන්න තියෙනවා. ඒ ගුණ සිහි කරනකොට හිත සන්සිඳිලා යනවා. උන්වහන්සේ නිකෙලෙස් නිසා සියලු පූජාවන්ට සුදුසු වන නිසා අරහං වන සේක. සියලු ධර්මය ස්වයංභූත් ඥාණයෙන් අවබෝධ කරපු නිසා, චතුරාර්ය සත්‍යය ධර්මය සම්මා සම්බුද්ධ වන සේක. ඒ අනන්ත අවබෝධයට අනුවම ජීවත් වුන නිසා විජ්ජාචරණ සම්පන්න වන සේක. උන්වහන්සේ සොඳුරු ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන් සොඳුරු නිවනට පත්වූ නිසා සොඳුරු ජීවිත ඇති නිසා සුගත වන සේක. සියලු ලෝකයන් අවබෝධ කරගත් සියලු ලෝකයන් වලින් නිදහස් වූ ලෝකවිදූ වන සේක. අකීකරු දෙව් මිනිසුන් දහම තුළ දමනය කළ නිසා අනුත්තර පුරිසදම්මසාරථී වන සේක. සියලු දෙවි මිනිස්සුන්ට නිවනට මග කියාදෙන ශාස්තෘන් වහන්සේ නිසා සත්තා දේවමනුස්සානං වන සේක. ඒ බුදුරජාණන් වහන්සේ අවබෝධ කරගත්ත චතුරාර්ය සත්‍යය ධර්මය අන් අයට දේශනා කරන නිසා බුද්ධ වන සේක. ඇයි මේ බුද්ධ කියලා කෙනෙක් හෙව්වෙ? චතුරාර්ය සත්‍යය ධර්මය දේශනා කරන කෙනා. අමා මහ නිවන ලබලා දෙන

කෙනා. සෝතාපන්න, සකදාගාමී, අනාගාමී, අර්හත් මාර්ගඵල ලබලා දෙන කෙනා. ඒ සඳහා මාර්ගය කියන කෙනා. බුද්ධ කියලා. අන් අය සසර දුකින් නිදහස් කරවන කෙනා. චතුරාර්ය සත්‍යය ධර්මය දේශනා කරන කෙනා. චතුරාර්ය සත්‍යය ධර්මය දේශනා කරන, සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියන එකටයි බුද්ධං සරණං ගච්ඡාමි කියලා සරණ යන්නෙ. දැන් බලන්න අපි බුදුරජාණන් වහන්සේ, බුදුරජාණන් වහන්සේ කිව්වට දන්නැති කෙනා දන්නෙ නෑ අර්ථය. අපිට හිතෙන්නේ නමක් විතරයි කියලා. බුදුරජාණන් වහන්සේ කියන්නෙ චතුරාර්ය සත්‍යය ධර්මය අන් අයට දේශනා කරන මුණිවරයාට කියන නම. උන්වහන්සේයි ඒ ධර්මය අවබෝධ කළේ. බුද්ධ කියන එක. අනිත් එක තමයි බුදුරජාණන් වහන්සේ ධර්මය අවබෝධ කරනකොට බුදුරජාණන් වහන්සේගේ ලෝකෙට කවුරුත් රූප, වේදනා, සංඥා, සංකාර, විඤ්ඤාණ කියලා පැනවීම් කරලා තිබ්බේ නෑ, ඒ වචන කියලා තිබ්බෙ නෑ. ඊළඟට බුදුරජාණන් වහන්සේට දුකේ හටගැනීම විස්තර කරනකොට කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා කියලා වචන කවුරුත් කියලා තිබ්බේ නෑ. අවිජ්ජා පච්චයා සංකාරා, සංකාර පච්චයා විඤ්ඤාණං කියලා ඒවා කියලා තිබ්බෙ නෑ. අවබෝධ කරපු ධර්මයට වචන පැනෙව්වේ බුදුරජාණන් වහන්සේ. ඒ උතුම් ධර්මයේ වචන පනවපු උත්තමයන් වහන්සේට කියන නම තමයි බුද්ධ. උන්වහන්සේ ආර්යය සත්‍යයක් අවබෝධ කළේ. ඒ අවබෝධ කරපු ආර්යය සත්‍යය බෙදලා විග්‍රහ කළේ බුදුරජාණන් වහන්සේ. දුක්ඛ ආර්යය සත්‍යය, දුක්ඛ සමුදය ආර්යය සත්‍යය, දුක්ඛ නිරෝධ සත්‍යය, දුක්ඛ නිරෝධ ගාමිණීපටිපදාර්ය සත්‍යය කියලා ඒවා වෙන් කරලා, විග්‍රහ කරලා, දේශනා කළේ බුදුරජාණන් වහන්සේ. ඒ අවබෝධ කරපු ධර්මය අන් අයට ඒ විදියට විස්තර කරන නිසා තමයි බුද්ධ කියන්නෙ. සම්මා සම්බුද්ධ කියලා කියන්නෙ ස්වයංභූත් ඥාණයෙන් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරන නිසා පරිපූර්ණව. බුද්ධ කියන්නෙ ඒ අවබෝධ කරපු ධර්මය අන් අයට දේශනා කරන නිසා. දැන් මේ ගුණය පසේ බුදුවරුන්ට නෑ. පසේ බුදුරජාණන් වහන්සේලා පච්චෙක බුද්ධ කියලා කියන්නෙ. පසේ බුදුරජාණන් වහන්සේලාගේ ස්වභාවය තමයි ධර්මය අවබෝධ කලාට, ඒ අවබෝධ කරපු ධර්මය වචනයෙන් කියන්න ඒ බුදුරජාණන් වහන්සේලාගේ ඒ ඒ වචනයෙන් කීමක් නෑ. අපේ බුදුරජාණන් වහන්සේට යම්තාක් අවබෝධ කළයුතු දේවල් ඇත් ද, ඒක අවබෝධ වෙන විදියට වචනයෙන් කියන්න පුලුවන්. දේශනා කරන්න පුලුවන්. ප්‍රහාණය කළයුතු දේවල් අපේ ජීවිතෙන් තියෙනවාද, ඒවා ඔක්කෝටම වචන පනවලා ප්‍රහාණය

කරන ක්‍රමය කියලා දෙන්න පුලුවන්. සාක්ෂාත් කළ යුතු, තුන් ලෝකයේ කවුරුවත් දැනගෙන හිටියෙ නැති අමා මහ නිවන ගැන බුදුරජාණන් වහන්සේ දේශනා කලා. ඒක භාග්‍යවතුන් වහන්සේට නිවන ගැන සාක්ෂාත් කළ යුතු දෙය ගැන දේශනා කරන්න පුලුවන්. ඊළඟට බුදුරජාණන් වහන්සේට ඒ නූපන් නිවන් මාර්ගය කවුරුත් කියලා තිබ්බෙ නැති නිවන් මාර්ගය, ඒ කවුරුත් දන්නෙ නැති නිවන් මාර්ගය, කිසි කෙනෙකුට හිතාගන්න බැරි නිවන් මාර්ගය භාග්‍යවතුන් වහන්සේට පුලුවන් වුනා අන් අයට දේශනා කරන්න. පින්වතුනි ලෝකෙ නැති දෙයක්, ලෝකෙ කාටවත් හිතාගන්න බැරි දෙයක් එක පාරට දේශනා කරනවා කියන එක සුලු දෙයක් ද? ඒක ආශ්චර්‍යයියිනෙ, අද්භූතයිනෙ. ඒ නිසානෙ බුද්ධ කියලා කියන්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේ, ඇයි ඒ කාලෙ තිබ්බෙ අත්ථකිලමතානු යෝගය, ඊළඟට කාමසුඛල්ලිකානුයෝගය. ඔය දෙක තමයි මේ ලෝකෙ දෝලනය වෙවී තිබ්බෙ, අන්ත දෙක. එක්කො කම් සැප විඳ විඳ යනවා, එක්කෝ දුක් විඳ විඳ යනවා. එතකොට බුදුරජාණන් වහන්සේ ආර්ය අෂ්ටාංගික මාර්ගය දේශනා කරන්න කලින්ම වදාළා ද්වමේව භික්ඛවේ අන්තා පබ්බජිතේන නසේවිතබ්බා. නිවන් දකින්න ඕන නම් නිවන් දකින කෙනා මේ අන්ත දෙක ප්‍රහාණය කළ යුතුයි. බුදුරජාණන් වහන්සේ මේ අන්ත දෙකට නොපැමිණ, මධ්‍යම ප්‍රතිපදාවෙන් තමයි දහම් ඇස උපදවා ගත්තෙ, ඥාණය උපදවා ගත්තෙ, ප්‍රඥාව උපදවාගත්තෙ. ආලෝකය උපදවා ගත්තෙ. කුමක්ද ඒ මධ්‍යම ප්‍රතිපදාව? ඒ තමයි අරමේව අරියෝ අට්ඨංගිකෝ මග්ගෝ. මේ ආර්ය අෂ්ටාංගික මාර්ගයයි. එතකොට බුදුරජාණන් වහන්සේ චතුරාර්ය සත්‍යය ධර්මය විස්තර කර කර දුන්නා. භාග්‍යවතුන් වහන්සේ ඇට්ටේරියා වනයක් තරම් උපමාවට ගත්තු අවබෝධ කළ ධර්මය පන්සාලිස් වසකට දේශනා කලේ අතේ තියෙන කොළ මිට තරම් ප්‍රමාණයක්. ඊළඟට ලෝකයට වසන් වෙලා තිබුනු ඒ උතුම් ධර්මය ඉස්සෙල්ලාම දේශනා කරනකොට ගොනු කරලා දේශනා කරනවා කියන එක ආශ්චර්‍යයී දෙයක්නෙ. ඇයි පින්වතුනි, ආලේ රථා ආලේසම්මුදිතා. මේ ලෝකයේ මිනිස්සු ආලේරාමා ආලේරථා ආලේසම්මුදිතා, ආලෙන් බැඳීමින් තෘෂ්ණාවෙන් වෙලී ඉන්නෙ. ඒ තුලමයි වාසය කරන්නෙ. ඒ තුලින්මයි සතුටු වෙන්නෙ. බුදුරජාණන් වහන්සේ ආලය ප්‍රහාණය කිරීම පිණිස දහම් දෙසද්දින් ඒකෙන් සතුටු වෙවී ඉන්න මිනිස්සු කන් යොමු කරනවානෙ. ඒක ආශ්චර්‍යයියිනෙ, අද්භූතයිනෙ. බුදුරජාණන් වහන්සේ බුද්ධ වන සේක. මානේරාමා, මානේරථා මානේසම්මුදිතා. මේ ලෝකයේ මිනිස්සු අන් අයට වැඩිය තමන් උසස් කියලා හෝ සමානයි කියලා

හෝ අන් අයට වඩා තමන් හීනයි කියලා හෝ මාන්නයෙන් ඉන්නෙ. මොකක්හරි මාන්නයක් තියෙනවා. ඒකෙ තුල, මාන්නය තුල වාසය කරන්නෙ. මාන්නයෙන් සතුටු වෙවී ඉන්නෙ. මාන්නයෙන් ප්‍රහාණය කිරීම පිණිස දහම් දෙසද්දි මේ ලෝක සත්ත්වයා අහනවානෙ. ආශ්චර්යයි, අද්භූතයිනෙ. ඊළඟට අවිද්‍යාවෙන් වැහිලා, අවිද්‍යාව තුල වාසය කරලා, අවිද්‍යාවෙන්ම ඉන්න සත්ත්වයා ඉන්නෙ. ඒ අවිද්‍යාව ප්‍රහාණය කරන්න දහම් දෙසද්දි ලෝක සත්ත්වයා අහනවා කියන එක ආශ්චර්යයි, අද්භූතයිනෙ. බුදුරජාණන් වහන්සේ තුළ තිබුන දසබල ඥාණ, විශාරද ඥාණ, ෂඩ්අසාධාරණ ඥාණ, මේ සියල්ලම සම්බුදුරජාණන් වහන්සේට පහළ වුනේ ලෝක සත්ත්වයාට හිතසුව පිණිසයි. ඒ නිසා බුදුරජාණන් වහන්සේ යම් රාත්‍රියක සම්මා සම්බුද්ධත්වයට පත්වුනාද, යම්රාත්‍රියක අනුපාදිශේෂ පරිනිර්වාණ ධාතුවෙන් පිරිනිවන් පා වදාළා ද කුසිනාරාවේ ඒ අතරතුර උන්වහන්සේ ලෝකයාට හිතසුව පිණිසම ගමන් කලා. ධර්මය දේශනා කලා. ආශ්චර්යයි, අද්භූතයි. ඉතින් පින්වතුනි මේ බුද්ධ කියන වචනයත් එක්ක මේ බුද්ධ ගුණය විස්තර කරද්දි බුදුරජාණන් වහන්සේගේ සිද්ධියක් කියන්නම් ඒ කාලෙ. ද්‍රෝණ කියලා බ්‍රාහ්මණයෙක් හිටියා. එතකොට බුදුරජාණන් වහන්සේ මේ ද්‍රෝණ බ්‍රාහ්මණයාගේ ගමට වැඩලා ඒ ද්‍රෝණ බ්‍රාහ්මණයා එන මාවතේ, ද්‍රෝණ බ්‍රාහ්මණයාට පේන්න අධිෂ්ටාන කරලා සිරිපතුල තිබ්බා. එතකොට බුදුරජාණන් වහන්සේගේ ආශ්චර්යයක් තමයි, භාග්‍යවතුන් වහන්සේ පා තියලා පා ඔසවනකොටම පා සටහන මැකෙනවා. ඒක තව කෙනෙකුට පෑගෙන් නෑ. එතකොට අධිෂ්ටානයකින් තමයි සිරිපා තියෙන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේගේ සිරිපා සළකුණ දැකලා මේ ද්‍රෝණ බ්‍රාහ්මණයාට පුදුම හිතුනා. මොකද එයාට වේදය මතකයි. අංග ලක්ෂණ විද්‍යාව මතකයි. මේ කකුලේ මේ පියසටහන අනුව නම් මේ කෙනා සුලුපටු කෙනෙක් වෙන්න බෑ. බුදුරජාණන් වහන්සේ මුණගැහුනා. දැක්කා. ඔබ දෙවියෙක් ද, නෑ. ඔබ සිද්ධවිද්‍යාධරයෙක් ද, නෑ. ගාන්ධර්වයෙදක්ද, නෑ. ඔබ මනුස්සයෙක් ද, මනුස්සයෙකුත් නෙවෙයි කිව්වා. අමනුස්සයෙක්ද, අමනුස්සයෙකුත් නෙවෙයි කිව්වා. එහෙනම් කවුද ඔබ? ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේ වදාළා පුණ්ඩරීකං යථා වග්ගෝ තෝ යේනනූප නිප්පති නූපලිත්තෝම්හිතෝයේන තස්මා බුද්ධෝස්මි බ්‍රාහ්මණ. බ්‍රාහ්මණය, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා බ්‍රාහ්මණය, පියුමක් තියෙනවා වතුරේ. හැබැයි ඒ පියුමේ වතුර රඳෙන් නෑ. එතකොට ඒ ජලය නොරඳිනවා. ආන්න ඒ වගේ. ජලයත් එක්ක, ජලයේ ගෑවිලා නෑ ඒ නෙළුම. ආන්න ඒ වගේ මම මිනිස්සු

අතර ඉපදුනා තමයි. නමුත් මඩේ හැදිලා, මඩෙන් උඩට ඇවිල්ලා මඩේ නොතැවරී තියෙන පියුමක් වගේ, මම මේ මනුස්ස ලෝකෙම ඉපදිලා මිනිස්සු අතර වැඩිලා, ඒ මිනිස්භාවය ඉක්මවා ගිය කෙනෙක් වුනා. මට කියන්න හොඳයි බුද්ධ කියලා. එතකොට බුදුරජාණන් වහන්සේ කියන්නෙ මේ කෙලෙස් වල නොතැවරුණ කෙනාට. රාගය තැවරිලා නෑ, ද්වේෂය තැවරිලා නෑ. මෝහය තැවරිලා නෑ. ලාභ සත්කාර තැවරිලා නෑ. සාදුකාරය තැවරිලා නෑ. නින්දාව තැවරිලා නෑ. කිසිම ශ්‍රාවකයො එක්ක තැවරිලා නෑ. උන්වහන්සේ පිරිසිදු පියුමක් ජලයේ නොතැවරෙන. බුදුරජාණන් වහන්සේ. ඊළඟට තියෙනවා අභිඥෙය්‍යං අභිඥාතං. අවබෝධ කරන යම්තාක් දේවල් ඇත් ද, ඒ සියල්ලම අවබෝධ කලා. ඊළඟට භාවේතබ්බංච භාවිතා. භාවිතා කරන්න ප්‍රගුණ කරන්න යම්තාක් දේවල් තිබ්බාද ඒ ඔක්කෝම මා ප්‍රගුණ කලා. පහාතබ්බං පහීනම්‍ය, ප්‍රහාණය විය යුතු දෙයක් කෙනෙක්ගේ ජීවිතේ තියෙනවා නම් ඒ සියල්ලම ප්‍රහාණය වුනා. තස්මා බුද්ධෝස්මි බ්‍රාහ්මණ. ඒ නිසා බ්‍රාහ්මණය මා ගැන දැනගන්න, බුද්ධ කියලා. ඔන්න බුදුරජාණන් වහන්සේ දේශනා කලේ. අවබෝධ කරන්න යම්තාක් දේවල් තියෙනවානම් ඒ සියල්ලම අවබෝධ කලා. ඊළඟට ප්‍රගුණ කරන්න තියෙන සියලුම දේවල් ප්‍රගුණ කලා. ඊළඟට ප්‍රහාණය කරන්න තියෙන සියල්ලම ප්‍රහාණය කලා. ඒ නිසා බුද්ධ කියනවා. ඒ කියන්නෙ චතුරාර්ය සත්‍යය ධර්මය සම්පූර්ණයෙන්ම අවබෝධ කලා. දුක්ඛ ආර්යය සත්‍යය. සමුදයාර්ය සත්‍යය ප්‍රහාණය කලා. ආර්ය අෂ්ටාංගික මාර්ගය ප්‍රගුණ කලා. බුද්ධෝ සෝ භගවා. ඒ චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරපු බුදුරජාණන් වහන්සේ බෝධාය ධම්මං දේසේති, අන් අයට අවබෝධ වීම පිණිස ධර්මය දේශනා කරනවා. තින්නෝ සෝ භගවා, සසරින් එතෙරට වැඩි බුදුරජාණන් වහන්සේ තරණාය ධම්මං දේසේති, අන් අයට ද සසර කතර තරණය කරන්න දහම් දේශනා කරනවා. සන්තෝ සෝ භගවා, සමතාය ධම්මං දේසේති, ශාන්ත වුනු බුදුරජාණන් වහන්සේ අන් අයට ද ශාන්ත වීම පිණිස දහම් දේශනා කරනවා. දන්තෝ සෝ භගවා දමතාය ධම්මං දේසේති, දමනය වුනු බුදුරජාණන් වහන්සේ අන් අයටද දමනය වීම පිණිස ධර්මය දේශනා කරනවා. නිබ්බුතෝ සෝ භගවා නිබ්බානාය දම්මං දේසේති, පිරිනිවන් වැඩි බුදුරජාණන් වහන්සේ පිරිනිවන්පෑම පිණිස දහම් දේශනා කරනවා. මේකට කියන නම් මොකක්ද, මේ ස්වභාවයට? මේ තමයි බුදු කෙනෙක්ගේ ලොව්තුරා බුද්ධ ගුණය. ලොව්තුරා බුද්ධ ගුණය. මේ ලෝකෙ මාර්ගඵල ලාභීන් බිහිවුනේ සෝතාපන්න, සකදාගාමී, අනාගාමී, අර්හත් කියන මාර්ගඵල ලාභීන් මේ

ලෝකයේ බිහිවුනේ බුදුරජාණන් වහන්සේ බුද්ධ ගුණයෙන් යුක්ත නිසා. ඒ ධර්මය, චතුරාර්ය සත්‍යය ධර්මය අන් අයට වැටහෙන්න දේශනා කරන්න පුලුවන්. ලෝකයාගේ හිතසුව පිණිස බුදුරජාණන් වහන්සේ කටයුතු කලා. එයට කියන නම කුමක්ද? මහා කරුණාවෙන්, අනන්ත මෛත්‍රියෙන් ලෝකය කෙරෙහි හිත සුව පිණිස වැඩිය බුදුරජාණන් වහන්සේගේ ඒ ගුණයට කියන්නෙ බුද්ධ. බුදු කෙනෙක් ලෝකයේ පහළ වෙලා යම්තාක් කටයුතු කරනවාද, ඒ සියලු කටයුතු වලට කියන නම මොකක්ද, බුද්ධ. සමත්ත බුද්ධ කිස්සෝ තෝ, සියලු බුදුකිස නිමකොට බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහන්න පැමිණෙනකොට බුදුරජාණන් වහන්සේ දුටුවා, බුදුරජාණන් වහන්සේ නිතර බලාපොරොත්තු වුනු කෙනෙක් හිටියා. ඒ තමයි ඒතු විඤ්ඤෙ‍ා් පුරිසෝ අසතෝ අමායාය. විඤ්ඤෙ‍ා් පුරිසෝ, නුවණැති පුරුෂයෙක් මා ළඟට පැමිණේවා. සටකපට නැති, අසතෝ, අමායාවී, මායා නැති. කට්ටකෙරාටික මායාකම් නැති කෙනෙක් මා ලඟට පැමිණේවා. මම ඔහුට දහම් දේශනා කරනවා. උදේ දහම් දේශනා කරනවා හවස් වෙනකොට අවබෝධ වෙනවා. හවස ධර්මය දේශනා කරනවා උදේ වෙනකොට අවබෝධ වෙනවා. බුදුරජාණන් වහන්සේ එහෙමයි. බුදුරජාණන් වහන්සේ ළඟට, බුදුරජාණන් වහන්සේ වදාළා එක්කෙනෙක් පැමිණෙනවා නම් ශ්‍රද්ධාව තියෙන, ඊළඟට ගන්නා ආහාරය හොඳට දිරවන නිරෝගීකම තියෙන, සටකපට මායම් නැති, හොඳට වීර්යය කරන්න පුලුවන්, හොඳට නුවණ හසුරවන්න පුලුවන් කෙනෙක් බුදුරජාණන් වහන්සේ ළඟට පැමිණෙනවා නම් බුදුරජාණන් වහන්සේට අනුශාසනා කරන්න පුලුවන් උදේ අනුශාසනා කරනවා, හවස් වෙනකොට අර්හත්වයට පත්වෙනවා. හවසට අවවාද කලොත් උදේ වෙද්දි අර්හත්වයට පත්වෙනවා. එච්චර භාග්‍යවතුන් වහන්සේට මේ සසරක කෙලෙස් නැතිකරන විදියට ශ්‍රාවකයාට දහම් දේශනා කිරීමේ ආශ්චර්‍යය අද්භූත ගුණ සමුදායක් තිබ්බා. ඒ ගුණයට කියන්නෙ බුද්ධ කියලා. අන් අයට ධර්මය අවබෝධ කරවන එක. එතකොට බුදුරජාණන් වහන්සේ අනන්ත සම්බුදු ඥාණ වලින් යුක්ත වෙලා දසබල ඥාණ, විශාරද ඥාණ, ඊළඟට අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාණ, සිව්පිළිසිඹියාවල් වල පරතෙරට පත්වෙලා, උන්වහන්සේට දහම්, බුදුරජාණන් වහන්සේ වෙලාවකට දේශනා කරනවා, කියන්නේ බුදුරජාණන් වහන්සේගෙන් ඕන කෙනෙක් බුදුරජාණන් වහන්සේගෙන් යමක් ඇහුවොත් ඕන එක්කෙනෙකුට බුදුරජාණන් වහන්සේට අදාළ උත්තරය තියනවා. ඒකයි අභයරාජ කුමාරයා බුදුරජාණන්

වහන්සේගෙන් අහන්නේ, ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ කලින්ම මේ ප්‍රශ්න වලට උත්තර හදාගෙන ඉන්නවද? අභයරාජ කුමාරය, මා නුඹගෙන් අසනවා, ඔබ වාහන හදන්න, රථ හදන්න දක්ෂ කෙනෙක් නේ. ස්වාමීනී මම දක්ෂයි, ඒක ප්‍රසිද්ධයි. ඉතින් ඔබෙන් කවුරුහරි ඇවිල්ලා ඔය රථයේ තියෙන කොටසක් ගැන ඇහුවොත් ඔබට උත්තර දෙන්න ප්‍රමාද වෙයිද. අනේ ස්වාමීනී, මම රථ ගැන, රථ හදන ඒවා, ඒසී පිළිබඳව, නැතිනම් වාහන හදන සම්බන්ධයෙන් මම අතිශයින් දක්ෂ කෙනෙක්, හැම කෑල්ලක් පිළිබඳවම දන්නවා ඒ වාහනේ තියෙන. ඒ නිසා කවුරුහරි මගෙන් ඇවිල්ලා ඇහුවොත් මේ කෑල්ල මොකක්ද, මේ කෑල්ල මොකක්ද කියලා, මම කලින් උත්තර හදලා තියාගන්නෑ, මම අවබෝධයක්, දැනුමක්, දැක්මක් මට තියෙන නිසා මම ඒ වෙලාවට උත්තරේ දෙනවා. බුදුරජාණන් වහන්සේ වදාළා, බෝධිරාජ කුමාරය, තථාගතයන් වහන්සේටද ධර්ම ධාතුව, තථාගතෝවේසා ධම්මධාතු සුප්පටිවිද්දා. තථාගතයන් වහන්සේට ධර්ම ධාතුව මනාව අවබෝධ වෙලා තියෙන්නෙ. ඒ නිසා යම්කිසි කෙනෙක් භාග්‍යවතුන් වහන්සේගෙන් ප්‍රශ්නයක් ඇහුවාට පස්සේ ඒ වෙලාවෙම භාග්‍යවතුන් වහන්සේට ප්‍රතිභාණ එනවා, ඒකට උත්තරේ. කලින් උත්තර හදාගෙන තියන් නෑ. කුමක්ද මේ? බුද්ධ ගුණය. බුදුරජාණන් වහන්සේගේ බුද්ධ ගුණය. ඉතින් බුදුරජාණන් වහන්සේ පන්සාලිස් වසක් පුරාවට උන්වහන්සේ ඉතින් මේ ධර්මය දේශනා කරද්දි එක්, බුදුරජාණන් වහන්සේ එක් එක්කෙනාගෙ ප්‍රශ්න විසඳන ක්‍රම තිබ්බා. එකක් බුදුරජාණන් වහන්සේ ඍජුවම විසඳනවා. කෙලින්ම අහන ප්‍රශ්නෙට උත්තරය දෙනවා. එක්කො බුදුරජාණන් වහන්සේ බෙදා බෙදා විග්‍රහ කරනවා. දැන් අපි ගත්තොත් එහෙම විභංග සූත්‍රය. පටිච්ච සමුප්පාදය විස්තර කරනවා. පංචුපාදානස්කන්ධය විස්තර කරනවා. ආයතන විග්‍රහ කරනවා. සළායතන විභංග සූත්‍රය විස්තර කර කර තියෙනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරනවා ප්‍රශ්න, රූපං නිච්චං වා අනිච්චං වාති, අහනවා ප්‍රශ්නෙ. අනිච්චං භන්තෙ. යද නිච්චං තං දුක්ඛං සුඛං ආති, යමක් අනිත්‍ය නම් ඒක දුකක්ද, සැපක් ද. දුක්ඛං භන්තේ. දුකයි ස්වාමීනී. යද නිච්චං යං දුක්ඛං බුදුරජාණන් වහන්සේ වදාළා ඒ යමක් අනිත්‍ය නම්, අනිච්චං දුක්ඛං විපරිණාම ධම්මං. අනිත්‍ය වූ දුක්ඛ වූ වෙනස් වන දේ, මම, මගේ, මගේ ආත්මය කියලා ගන්න සුදුසු ද. නෑ ස්වාමීනී. එතකොට අර ප්‍රශ්න උත්තර ක්‍රමයට තමයි ඒ ධර්මය දේශනා කරන්නෙ. ප්‍රශ්නය විසඳන්නෙ. එහෙම ක්‍රමයක් බුදුරජාණන් වහන්සේ ළඟ තිබ්බා. සමහර ප්‍රශ්න අහද්දි බුදුරජාණන් වහන්සේ නිහඬ

වෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේ, ආනන්ද ස්වාමීන් වහන්සේ සමහර තැන්වලදි අහලා තියෙනවා ඇයි භාග්‍යවතුන් වහන්සේ උත්තර දුන් නැත්තෙ? බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, එයා එක දෘෂ්ටියක ඉඳලා ඇවිල්ලා මේ ප්‍රශ්නෙ අහන්නෙ, මම ඕකට උත්තරයක් දුන්නා නම් ආයෙ එයා දෘෂ්ටියකට වැටෙනවා. ඒ නිසා භාග්‍යවතුන් වහන්සේ නිහඬව ඉන්නවා. භාග්‍යවතුන් වහන්සේ හරි පුදුම සහගතයි. නිහඬව ඉන්නවා. ඒ ක්‍රමයෙන් ප්‍රශ්න විසඳෙනවා. දැන් සාරිපුත්ත මහරහතන් වහන්සේගේ ශිෂ්‍ය නමක් හිටියා, භාවනා කරනවා කරනවා අසුභය පිහිටන් නෑ. භාග්‍යවතුන් වහන්සේ ළඟට කැඳවාගෙන ආවා. බුදුරජාණන් වහන්සේ වදාළා දැන් ඔය එක නතර කරන්න. මෙන්න මේ රත්තරන් මල දිහා බලාගෙන ඉන්න. රත්තරන් මලක් මවලා දුන්නා. බලන්න බුදුකෙනෙක් හැර කොහොමද මේවා තේරුම් ගන්නෙ. මල දිහා බලාගෙන හිටියා. ටික ටික ටික ටික මල පරවීගෙන යනවා, රන් මල. ඒ තුළින්ම විදර්ශනාව වැඩුවා. අර්හත්වයට පත්වුනා. කලින් රන්කරුවෙක්. ඒ තුළ එයාගෙ හිත රත්තරන් එක්ක වැඩ කරන්නෙ. ඊළඟට ඔහු මල් පරවෙනවා දැකලා තියෙනවා සසරේ. ඒවා ගැන හිතලා අනේ මෙහෙම වෙනවානේ කියලා හිතලා තියෙනවා. ඒක ලස්සනට බුදුරජාණන් වහන්සේට පුලුවන් එයාව අල්ලන්න ඒ ක්‍රමයෙන්. එයාගේ ක්ලේශ ප්‍රහාණය කරන්න. චුල්ලපන්ථකයන්, එක ගාථාවක් මතක හිටින්නෑ. පුදුමං යතා කෝකනදං සුගන්ධං පාතෝසියාපුල්ල මවීත ගන්ධං අංගීරසං පසන්න විරෝචමානං තපංචමා නිවඅන්තලික්කේති. බුදුරජාණන් වහන්සේගේ ගුණ ඒ ගාථාව කටපාඩම් නෑ, අයියා කිව්වා ගෙදර යන්න කියලා. අඬ අඬා සිටිනවා. හිසඅතගෑවා. ශරීරයම සීතල වෙලා ගියා. ඇයි චුල්ලපන්ථක අඬන්නෙ. අයියා මට ගෙදර යන්න කිව්වා. අයියාගෙ ශාසනයක් නෙවෙයි. මෙන්න මේ වස්ත්‍රය, රජෝහරණං. දූවිලි අතහරිනවා. කිලිටි අත්හරිනවා කියලා ස්පර්ශ කරමින් සිටින්න. ඒක තමයි භාවනාව. කිලිටි අත්හරිනවා කියලා ස්පර්ශ කලාම කිලිටි වෙනවා. කලින් රජ කෙනෙක් වෙලා ඉඳලා පිරිසිදු රෙදි දාඩිය නිසා කිලිටි වෙනවා කියලා හිතලා ශරීරයේ තියෙන අසුභ ස්වභාවය මනසිකාර කරලා සසරේ. ඒක භාග්‍යවතුන් වහන්සේ දුටුවානෙ. ගානට මනසිකාරය එකතුවුනා. ඒ තුලිනුත් විදර්ශනාව ඇතිවුනා. මනෝමය රූප මවන, මනෝමය ඍද්ධි ඇති භික්ෂූන් අතර අග්‍ර වුනා. අසූමහා ශ්‍රාවකයන්ගෙන් එක්කෙනෙක්නෙ. පුදුම සහගතයිනේ. කොහොමද බුදුරජාණන් වහන්සේගේ දමනය. බුදුරජාණන් වහන්සේ ඒ විදියට නොයෙක් ආකාරයෙන් ධර්මය දේශනා කලා. සමහරවෙලාවට කෙනෙක්ට ධර්මය

අවබෝධ කරන්න පුලුවන් නම්, බුදුරජාණන් වහන්සේ ඒ වෙනුවට, දැන් අර කුඹුරේ ගොවියා, මෙතනින් වඩිනවා. එතකොට අර කුඹුර හාන, කුඹුර වපුරන, වතුර බදින, ඊළඟට වල් ගලවන, ඒ ඔක්කෝගෙම කුඹුර ළඟින් වැඩම කලානෙ. මාස කීයක් ද. කුඹුර පැහිලා ගොයම් කපනකල්. ඉතින් හෙටයි ගොයම් කපන්නේ. ඉතින් බ්‍රාහ්මණයා හිතුවා, ශ්‍රමණ භවත් ගෞතමයන්, අනේ ඉස්සර ඉඳලා මේ කුඹුර ළඟින් වඩිනවා. එතකොට භාග්‍යවතුන් වහන්සේට කොච්චර බුද්ධ කෘත්‍යය තියෙද්දින්ද එතනින් වැඩම කරන්නෙ. ඊටපස්සෙ හෙට අනිවාර්යයෙන් කොටසක් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේට දෙන්න ඕන. රෑ ආපු වැස්සෙන් කුඹුර යටවෙලා ගියා. දුටුව ගමන් පහුවදා කලන්තෙ දාලා වැටුනා. ශෝක කරනවා. බුදුරජාණන් වහන්සේ රන් රුවක් වාගේ වඩිනවා. තණ්හාය ජායතී සෝකෝ තණ්හාය ජායතී භයං තණ්හාය විප්පමුත්තස්ස නත්ථි සෝකෝ කුතෝභයං, එතකොට ඔය බණ පදය දේශනා කරනකොටම කාමසූත්‍රය දේශනා කරනකොටම එතනදින්ම සෝතාපන්න වුනා. එතකොට ඒ බණපදය දේශනා කරන්න බුදුරජාණන් වහන්සේ කොච්චර කාලයක් ඉවසීමෙන් හිටියද. කලබල නැනෙ භාග්‍යවතුන් වහන්සේ. ඒ කෙනාට ධර්මය අවබෝධ වෙන විදිය දන්නවානෙ. සෝපාක වනයේ මිනියක ගැටගහලා, කෑ ගහනවා. බුදුකරුණාවෙන් බුදුරජාණන් වහන්සේ දැක්කා. රශ්මි ධාරාවක් විහිදෙව්වා සොහොනට. මා භායී සෝපාක. සෝපාක භයවෙන්න එපා. තථාගතයන් වහන්සේ ළඟට එන්න. සෝපාක මා නුඹව මුදවනවා. රාහු මුඛයට අහුවෙච්ච සඳක් මුදවන විදියට. එහෙම්මම සෝතාපන්න වුනා මිනියත් එක්කම. සෝවාන් වෙනකොටම ඒ ගැටගහලා තිබ්බ බැමි ලිහිලා ගියා. බුදුරජාණන් වහන්සේ එවපු ආලෝක ධාරාවෙ ගමන් කරන්නෙ, නැවතුනේ ගන්ධ කුටියෙ. අම්මා සොයාගෙන එනවා පුතා. බුදුරජාණන් වහන්සේ නොපෙනෙන්න සැලැස්සුවා. ස්වාමීනී, මාගේ පුත්‍රයා නැහැ. ඒ අම්මාට දහම් දෙසුවා. අම්මට දේශනා කරන ධර්මය අහලා සෝපාක, අවුරුදු හතේ පුංචි කුමරු අර්හත්වයට පත්වුනා. අම්මා සෝවාන් වුනා. පුදුම සසරක්. කොහොමද එක එක්කෙනා දුකෙන් නිදහස් වෙච්චි හැටි. පුංචි රාහුලයන් වහන්සේ අර්හත්වයට පත්වුනා. පැවිදි වුනා. සක්මන් කරන මලුවේ ප්‍රශ්න ඇහුවා. ඒකං නාමකිං ගාව. සෝපාක, සෝපාක කියන්නේ මොකක්ද? සබ්බේ සත්තා ආරක්ඛිතා, සොඳුරුයි මේ බුද්ධ ශාසනය. අතිශයින් සොඳුරුයි. සැවැත් නුවරින් බුදුරජාණන් වහන්සේ වඩිනවා. අනේපිඬු සිටුතුමා කඳුළු මුසු මුහුණින් භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්න. දෙවි මිනිසුන්ට හිතසුව පිණිස පහළ වූ

ශාස්තෘන් වහන්සේගේ ගමන කොහොම වළක්වන්නද. තවත් කොහේහරි දුප්පත් ගමක, තවත් ගම්මානයක බුදුරජාණන් වහන්සේගේ රශ්මි ධාරාව දැකලා හරි පැහැදිලා සුගතියේ යන අය ඉන්නවා. ඔවුන් වෙනුවෙන් බුදුරජාණන් වහන්සේ වඩිනවා. අනේපිඩු සිටුතුමා ගෙදර පුටුවට වෙලා ඉන්නවා. පුණ්ණා දාසිය, ඇයි සිටුතුමනි? භාග්‍යවතුන් වහන්සේ වැඩියා. සිටුතුමනි, මං භාග්‍යවතුන් වහන්සේ නවත්වන්න උත්සාහ කරන්න ද? පුණ්ණා, උඹ භාග්‍යවතුන් වහන්සේ නැවැත්තුවොත් උඹ මම දාස භාවයෙන් නිදහස් කරනවා. එක හුස්මට කුඹුරෙන් කුඹුරට, නියරෙන් නියරට, පාරෙන් පාරට දුවගෙන ගියා. බුදුරජාණන් වහන්සේ ශ්‍රාවකගණ පිරිවරාගෙන තරු පිරිවරාගත්ත සඳක් වගේ ඈත වෙල් යායෙ වඩිනවා. පුණ්ණා දුවගෙන ගිහිල්ලා බුදුරජාණන් වහන්සේගේ රන්වන් සිරිපා ළඟ වැඳ වැටුනා. මොකද පුණ්ණා මේ? ස්වාමීනී වඩින්න එපා. භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්න. පුණ්ණා භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටියා කියලා පුණ්ණාට තියෙන සැපය කුමක්ද? ස්වාමීනී, මං උදේ සීතල අලුයම නැගිටලා වතුර අදින දාසියක්. මේ දෑත් දෙස බලන්න. මගේ දෑත් වල කරගැට මෙච්චර. මං උපන්දා ඉඳලා වී කොටන දාසියක්. ස්වාමීනී මේ පුණ්ණාගේ දෑස් ඇතුලෙ තියෙන දුක දිහා බලන්න. පුණ්ණා දාසියක්. භාග්‍යවතුන් වහන්සෙ අද වැඩ හිටියොත් පුණ්ණාව දාස භාවයෙන් නිදහස් කරවනවා. බුදුරජාණන් වහන්සේ එහේම්මම අනිත් පැත්ත හැරුනා. මහා කාරුණික වූ බුදුරජාණන් වහන්සේ, ලෝකයාට හිතසුව පිණිස පහළ වුනේ. එදා ඉඳලා පුණ්ණා පිට්ටු ටිකක් අරගෙන ඇවිල්ලා බුදුරජාණන් වහන්සේට පූජා කරනවා. සංඝයා කතා කලා, ස්වාමීනී මේ පුණ්ණා භාග්‍යවතුන් වහන්සේ, සංඝයා කතාවෙනවා භාග්‍යවතුන් වහන්සේ ආයෙ දෙව්රම් වෙහෙරට වැඩම්මුවා. මෙන්න හැමදාම පිට්ටු හද හදා එනවා හාල්පිටි වලින්. හාල්පිටි අග්ගලා. මෙයාට වෙන කෑම නැද්ද අනේපිඩු සිටුමැදුරේ. පින්වත් මහණෙනි, එසේ කියන්න එපා. ඔය පුණ්ණා එක්තරා ජීවිතයක එක්තරා මැහැල්ලක් වෙලා ඉඳලා. ඒ ජීවිතේ මම කොටළුවෙක්. එතකොට ඒ ආච්චි අම්මා කුඩු ටිකක් අරන් දිය කරලා ඒ කොටළුවාට දෙනවා පුත්‍ර සෙනේහෙන් වගේ. අදටත් සසරේ ස්වභාවය බලන්න පින්වත් මහණෙනි, පුණ්ණාට බුදුරජාණන් වහන්සේ මතක් වෙනකොට පිටි ආහාරයක් මතක් වෙනවා. ඒ පුණ්ණා භාග්‍යවතුන් වහන්සේගේ ශාසනයේ පැවිදි වුනා. මහරහත් භාවයට පත්වුනා. ඒක දැකලා නේද එදා හැරුනේ. ඒක දැකලා එදා හැරුනේ. මේ තුන් ලෝකෙට මහාකරුණාවෙන් වැඩිය බුදුරජාණන් වහන්සේ මේ සත්ත්වයාගේ ගින්න

නිවුනා, නිච්චා කියලා යමක් ඇද්ද, පින්වත්නි ඒකාන්තයෙන් අපේ බුදුරජාණන් වහන්සේ මහාකාරුණිකයි. බුද්ධ වන සේක. බුදුරජාණන් වහන්සේගේ කීර්තිරාවය නාගලෝකයේ නාගයෝ කතා කරනවා. මනුස්ස ලෝකෙ මිනිස්සු කතා කරනවා. සෝ භගවා ඉතිපි අරහං සම්මා සම්බුද්ධෝ. ඒ බුදුරජාණන් වහන්සේගේ ගුණ අනන්ත. අංගීරසෝ. බුදුරජාණන් වහන්සේගේ ගුණ හැමතැනම කතා වෙනවා. දෙවියන්ගේ ලෝකයේ, බ්‍රහ්මයන්ගේ ලෝකෙ. ඒ බුදුරජාණන් වහන්සේ එක්තරා ගෙදරකට වඩිනකොට, තිට්ඨ වසල, වසලය නවතින්න කියලා කිව්වා. මේ බ්‍රහ්මයන්ගෙන් පවා අනන්ත වූ බුදුගුණ අහන බුදුරජාණන් වහන්සේ වසලය කියලා ඇසිය යුතුද? මහා කරුණාවෙන් ඔහුගේ වසල බව නැති කිරීම පිණිසයි. බ්‍රාහ්මණය නුඹ දන්නවාද වසලයෙක් වෙන එක හෝ වසල ගුණධර්ම. මම දන්නේ නෑ, එහෙනම් අහන්න, මනසිකාර කරන්න මා කියාදෙන්නම්. වසල සූත්‍රය වදාලා. ඒ මොහොතෙම දණ ගහලා දිවිහිමියෙන් බුදුරජාණන් වහන්සේගේ සිරිපා ළඟ බුද්ධං සරණං ගත වුනා. බුදුරජාණන් වහන්සේ සරණ ගියා. ශ්‍රී සද්ධර්මය සරණ ගියා. ආර්ය මහා සංඝරත්නය සරණ ගියා. තවත් කෙනෙකුට සරණ දෙන්න ඕනම වචනයක් බුදුරජාණන් වහන්සේ අහනවා. ඒ උන්වහන්සේගේ බුද්ධ කෘත්‍යය. යම්කිසි කෙනෙකුට ධර්මය අවබෝධ කරන්න උන්වහන්සේගේ හදමඩල දැක්කට පස්සෙ එයා සරණට පැමිණෙනවා නම් බුදුරජාණන් වහන්සේ තමන්ගේ පපුව පලලා හදමඩල එළියට අරන් පෙන්නනවා ඔහුට සරණ යන්න. බුදුරජාණන් වහන්සේට සමහර දවස්වලට ආහාර නෑ, භාග්‍යවතුන් වහන්සේගේ දානය. ගාථාභිගීතං අභෝජනීයං කසීභාරද්වාජ. කසීභාරද්වාජගේ කුඹුරට ගියාට පස්සෙ බුදුරජාණන් වහන්සේට එදා දානෙ නෑ. අන් අයට සසර දුකින් නිදහස් කරවන්න. බුදුරජාණන් වහන්සේ එක්තරා නිවසකට දානයට වඩිනවා. එදා කිරිබතක් හදලා ඒ බ්‍රාහ්මණයා. ඊටපස්සෙ ගන්න හදනකොටම තව කෙනෙක් එනවා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ වැඩියා. මොනවා කරන්නද ඉතින් කියලා දුන්නා. පහුවදාත් හොඳට කිරිබත හැදුවා. එදත් බුදුරජාණන් වහන්සේ වැඩියා. මොනවා කරන්නද කියලා දුන්නා. තුන්වෙනි දවසෙත් කිරිබත හැදුවා. එදත් බුදුරජාණන් වහන්සේ වැඩියා. මේ බලන්න මේ ලෝක සත්ත්වයාට අමාරස බෙදන හැටි. ඊටපස්සෙ එදා දානෙ බෙදලා බ්‍රාහ්මණයා කියනවා, මේ ආසාව වැටුනා නේ? හැමදාම එනවා නේ? ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ආයෙ ආයෙමත් එනකොට ආයෙ ආයෙමත් දන් දෙනවා. ආයෙ ආයෙමත් වැස්ස එනකොට ආයෙ ආයෙමත් කුඹුරු කරනවා. ආයෙ ආයෙමත් කුඹුරු

කරනකොට ආයෙ ආයෙමත් අස්වැන්න එනවා. ආයෙ ආයෙමත් අස්වැන්න එනකොට ආයෙ ආයෙමත් කුඹුරු කරනවා. මේ විදියට ආයෙ ආයෙමත් එනකොට දායකයා ආයෙ ආයෙමත් දන් දෙනවා. ආයෙ ආයෙමත් දන් දෙනකොට ආයෙ ආයෙමත් පින් රැස් වෙනවා. ඔහුගේ ජීවිතේ සුවපත් වෙනවා. ධර්මය දේශනා කලා. තෙරුවන් සරණ ගියා. ශාස්තෘන් වහන්සේ. තෙරුවන් සරණ යවන්න භාග්‍යවතුන් වහන්සේ කරන දේවල්. දේවදත්තගේ සියලු දුක් කම්කටොලු ටික ඉවසගෙන හිටියනෙ ශාස්තෘන් වහන්සේ නිකෙලෙස් හද මඩලෙ අවසානයේ බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියන වචනය පිටවෙනකල්. බුදුරජාණන් වහන්සේ තුන් ලෝකයටම දහම් දේශනා කලා. තුන්ලෝකෙම දුක් ගිනි නිව්වා. තුන් ලෝකයටම සරණ වුනා. තුන් ලෝකයටම පිහිට වුනා. ඉතින් බුදුරජාණන් වහන්සේට තේරෙනවා නම් මේ කෙනාට ධර්මය අවබෝධ වෙන්නෙ මෙහෙමයි කියලා කැතකුණු පවා අතින් අතගානවා. කලේ නැද්ද එහෙම. පූතිගත්තතිස්සගේ ශරීරය පුපුරලා. කවුරුත් ළඟට යන්නෑ ගන්දස්සාරෙ. කෙතරම්ද කියනවා නම් මේ සිවුර ඇලිලා ඇඟට සැරවත් එක්ක වේලිලා, දැන් ආයෙ ගලවන්න බෑ තුවාල. සිවුර උස්සපු ගමන් තුවාල හැදෙනවා. මොකද කරන්නෙ. ශාස්තෘන් වහන්සේ ඇහුවා ආනන්ද කවුරුත් උපස්ථාන කරන්නැද්ද. අනේ ස්වාමීනී මේ භික්ෂුව අන් අය ගැන බලපු නැති නිසාදෝ කවුරුත් උපස්ථානෙට එන් නෑ. ආනන්ද ගේන්නකො උණුවතුර. මගේ බුදුරජාණන් වහන්සේගේ අතින්ම උණුපැන් ඉහළා හිමීට හිමීට සිවුර මෑත් කරලා, ආනන්ද ස්වාමීන් වහන්සේට සිවුර සෝදන්න දීලා බුදුරජාණන් වහන්සේ අර බිබිලා දාලා ඕජාව වැගිරෙන ශරීරය අතගෑවානෙ. පුදුම සහගතයිනෙ. දෝවනය කලානෙ. මේ මහා බ්‍රහ්මයා ශාස්තෘන් වහන්සේගේ සිරිපා ළඟ වැඳ වැටෙනවා නේද. බුදුරජාණන් වහන්සේගේ, බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් වෙන් කරපු පඩික්කම සක්දෙවිඳු හිසේ තියාගෙන යනවා නේද. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ පූතිගත්තතිස්ස තෙරුන්ට චීවරය පොරවලා ශරීරයේ ස්වභාවය බලන්න කියලා දහම් දෙසුවා. සැනසිල්ලට පත්වුනා. එහෙම්මම අර්හත්වයට පත්වුනා. එහෙම්මම පිරිනිවන් පෑවා. කෙනෙකුට අමා මහ නිවන් ලබලා දෙන්න කරන දේවල්. මේ වනාහී බුද්ධ ගුණයයි. චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කොට අන් අයට දේශනා කරනවා. අන් අය සසර කතරින් එතෙර කරවනවා. බුදුරජාණන් වහන්සේ බොහෝ දෙනාගේ දුක් ගිනි නිවනවා. අදටත් මොහොතක් හරි අපි මේ සැනසෙන්නේ බුදුරජාණන් වහන්සේ නිසා නේද. බුදුරජාණන් වහන්සේ කියන සංඥාව අපේ

හිතෙන් අයින් කලොත්, බුදුරජාණන් වහන්සේ කියන ඒ බුද්ධ ශාසනය අපේ ජීවිතෙන් අයින් වුනොත් අපි මොක්කුද? අපි කව්ද? අපි මොන වගේද ඉන්නෙ? මුලු හදවතින්ම බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ඊළඟ ජීවිතේවත් හදවතින් වෙනස් වෙන්නැති විදියට සරණ යන්න. ශ්‍රී සද්ධර්මය මුළු හදවතින්ම සරණ යන්න. ඊළඟ ජීවිතෙත් අමතක වෙන්නැති විදියට සරණ යන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. ඊළඟ ජීවිතේත් අමතක නොවෙන විදියට සරණ යන්න. බුදුරජාණන් වහන්සේ බුද්ධයි කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ කප්පිණ තෙරුන් වඩිනකොට, කප්පිණ රජ්ජුරුවෝ, උන්වහන්සේ එකසිය විස්සක් යොදුන්, කිලෝමීටර් එක්දහස් දෙසීයක් යොදුන් ඍද්ධියෙන් වැඩලා තියෙනවා ඔහු වෙනුවෙන්. මහා කස්සපයන් වහන්සේ වඩිනකොට ඒ වෙනුවෙන් මග පාරට වැඩම කලා. කුක්කුසාති වෙනුවෙන් යොදුන් හතලිස්පහක් වැඩලා තියෙනවා. අංගුලිමාල වෙනුවෙන් මහා වනයට යනවා. මහ වනයට වඩිනවා. රජ්ජුමාලා බෙල්ලේ වැලේ දාගන්න තොණ්ඩුව බඳින ගහේ එහා පැත්තේ බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නවා. කවුරු වෙනුවෙන්ද, ලෝක සත්ත්වයාට හිතසුව පිණිස. මේ තුන් ලෝක ධාතුවේම බොහෝ ජනයාට හිතසුව පිණිස. බොහෝ ජනයාට යහපත පිණිස පහළ වුනු ශාස්තෘන් වහන්සේ නමක් බුදුරජාණන් වහන්සේ හැර අතීතයේ හෝ අනාගතයේ හෝ වර්තමානයේ හෝ දකින්න නම් නෑ. ඒකාන්තයෙන් බුදුරජාණන් වහන්සේ බුද්ධ වන සේක. ඉතින් ලොව්තුරා තථාගත බුදුරජාණන් වහන්සේ මෙම සසර දුකින් නිදහස් කරවීම පිණිස දැන් මේ දරුවෙක් වඩාගෙන මැරිච්ච දරුවෙක්ව පපුවේ තුරුල් කරගෙන මේ කොණ්ඩෙ කඩාදාගත්ත උමතුවෙච්ච වගේ ස්ත්‍රියක් ඇවිල්ලා මේ දරුවට බෙහෙතක් දෙන්න කියලා කියනවා. පුලුවන්ද බෙහෙතක් දෙන්න, පුලුවන් කිව්වා. හැමතැනකින්ම ඇහුනෙ පලයන් කියලා. ඔය මැරිච්ච එවුන්ට කොහෙන්ද බෙහෙත් කියනවා. බුදුරජාණන් වහන්සේ වදාළානෙ පුලුවන් කියලා. බුදුරජාණන් වහන්සේ වදාළේ අම්මට බෙහෙත් දෙන්න පුලුවන්. ඊටපස්සෙ කිව්වා ඉතින් පුලුවන්ද, පුලුවන් කිව්වා. ගොඩගන්න පුලුවන්ද, ගොඩගන්න පුලුවන් කිව්වා, අම්මා. ඊටපස්සෙ කිසාගෝතමී අහනවා මේ දරුවට බෙහෙත් කරන්න පුලුවන්ද, පුලුවන් කිව්වා. මොනවද ඕන වෙන්නෙ? අබ මිටක්. ඇත්තටම අබ මිටක්? නෑ අබ මිටක් තිබ්බම ඇති කිව්වා. ඇත්තටමද කියලා ඇහුවා. ඇයටවත් විශ්වාස කරගන්න බෑ. පුලුවන් අබ මිටක් තිබ්බොත් කිව්වා. හැබැයි කිසාගෝතමී, නොමළ ගෙයකින්. ගෙයක් ගෙයක් ගානෙ, දැන් අර දරුවා බේරන්න බේරන්න කියනවා නෙවෙයි, බෙහෙත්

හොයන්නෙ දැන්. අබ මිටක් හොයන්නෙ. අබ. ඊටපස්සෙ අබ මිට, හැම ගෙදරකින්ම මැරිලා. ඈම දැම්මනෙ සොහොනට ගෙනිහිල්ලා දරුවා. මිනිස්සුන්ට මිනිය ගෙනියන්න දුන්නැති කිසාගෝතමී, ඇයම ගෙනිහිල්ලා සොහොනට දැම්මා. කොහොමද ධර්මයේ ආශ්චර්යය. ස්වාමීනී අම්මට බෙහෙත ලැබුනා කියලා කිව්වා. මාව සුවපත් කරවන්න. මෙහෙණි අරණට යැව්වා. අර්හත්වයට පත්වුනා. මහා මොරසූරන වැස්සෙ නේද, පටාචාරාට පිස්සු හැදුනෙ. ඇයට ධර්මය දේශනා කරලා, මිනිස්සු ඔක්කෝම පැන්නුවා නිරුවතින් පැමිණෙන මේ පිස්සිය කියලා. පුදුම සහගත ලෝකයක්. ධර්මය දේශනා කලා. ඊටපස්සෙ ඇය හොඳට විදර්ශනාවෙන් හිටියා. මේ පටාචාරා හරී පුදුමයි, ඒ පටාචාරා පිණ්ඩපාතෙ වඩිනකොට මිනිස්සු වැඩ කරන දිහා පේනවා කියනවා. එතකොට හිතට සංඥාවක් ගන්නවා කියනවා මිනිස්සුත් වැඩ කරනවා. එක එක්කෙනා කටයුතු කරනවා. මමත් භාවනා කරන්න ඕන කියනවා. හැම වෙලාවෙම ඒක හිතට ගන්නවා. දුක සිහි කරනවා. ඇය පාදෙකට පැන්, ඒ පැන් ටිකක් දුර, ඊළඟ පාර දානකොට ටිකක් දුර, ඊළඟ පාර දානකොට ටිකක් දුර මරණයම සිහි කළා. ඈ දැක්කානෙ පොඩි වයසෙදිම ඔක්කොමලා මැරෙනවා දැක්කනෙ. එක එක වයස්වල මැරෙනවා. බුදුරජාණන් වහන්සේ ගාථා වදාළා ඍද්ධියෙන්. අර්හත්වයට පත්වුනා. වතුරෙන්ම පිස්සියක් වුනු පටාචාරාට වතුර පොදක් නිසාම අර්හත්වයට පත්වෙන්න දහම් දේශනා කලා. මගේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. මේවා සිහිකරනකොට මටනම් හිතාගන්න බෑ පින්වත්නි, ඒ පටාචාරා උත්තමාවිය ගෙයින් ගෙට පිඩු සිඟා වඩිනකොට ඔය ගෙවල්වල මිනිස්සුම නේද ගල්ගහලා පන්නගත්තෙ. කොහොම දන් බෙදුවද මේ උත්තමාවියට. කොහොම දන් බෙදුවද. ඒ නිසා මේ ලෝකෙ සියලුම ශාන්තිය ලබලා දුන්නෙ අසිරිය ලබලා දුන්නෙ සිතාගත නොහැකි මේ අර්හත්වය නිවනේ උණුසුම, නිවනේ සිසිලස හැමතැනම පැතිරුවේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. ඒ බුදුරජාණන් වහන්සේට මුව නොසෑහෙන්න ස්තුති කරන්න පින්වත්නි. ඒ බුදුරජාණන් වහන්සේට මුව නොසෑහෙන්න සාදුකාර පවත්වන්න. ඒ බුදුරජාණන් වහන්සේ ගැන මේ හදමඩලේ ගොඩාක් හිතලා හදවත සිසිල් කරගන්න. රාගයෙන්, ද්වේෂයෙන්, මෝහයෙන් ගිනිගත්ත මේ හදවත සීතල වෙලා යනවා බුදුරජාණන් වහන්සේ ගැන හිතනකොට. බුදුරජාණන් වහන්සේ අවබෝධ කරගත්ත චතුරාර්ය සත්‍යය ධර්මය අන් අයටද අවබෝධ කරවූ හෙයින් බුද්ධ වන සේක. අවබෝධ කරගත්ත ධර්මය අන් අයට මහා

කරුණාවෙන් දෙව් මිනිස්සුන්ට හිතසුව පිණිස මැනැවින් දේශනා කොට වදාළ හෙයින් බුද්ධ වන සේක. අන්අයට සෝවාන් වීම පිණිස, සකදාගාමී වීම පිණිස, අනාගාමී වීම පිණිස, අර්හත්වය පිණිස ධර්මය දේශනා කල බැවින් බුද්ධ වන සේක. ඉතින් ඒ බුදුගුණම කල්පනා කරන්න. මුලු හදවතින්ම බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ශ්‍රී සද්ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. සුලුදෙයක් කියලා හිතන්න එපා. භාවේතබ්බංච භාවිතං මෙ, මම භාවිතා කළ යුතු හැමදෙයක්ම භාවිතා කලා. බුදුරජාණන් වහන්සේ වදාළා ශ්‍රාවකයන්ට බුද්ධානුස්සතිය භාවිතා කරන්න කියලා. ඒකයි දැන් අපි මහමෙව්නාවට ආවට පස්සෙ අපේ ලොකු ස්වාමීන් වහන්සේ අපිව නිතර පුහුණු කරවන එකක් තමයි බුද්ධානුස්සතිය, මෛත්‍රිය, අසුභය, මරණානුස්සතිය. ඔය සතර කමටහන් තුළ අපිව නිතරම හික්මවනවා. ඒ වගේම අපි නිතර කියන එකක් තමයි බුද්ධානුස්සතිය. හරියට උපදෙස් දෙන එකක් තමයි බුද්ධානුස්සතියට. ඒ තුළින් තමයි මේ ශාසනය ගැන පැහැදීම ඇතිවෙන්නෙ. ශාසනය තුළ රඳින්නෙ. ශාසනය තුළ මුල්බැසගන්නෙ. ඔහු විසිවෙන් නැති චරිතයක් බවට පත්වෙන්නෙ මේ බුද්ධානුස්සතිය තුළින්. ශාස්තෘන් වහන්සේගේ සරණට පැමිණිලා, ආරක්ෂාවට පැමිණිලා. ඒ නිසා මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේගේ අනන්ත බුදුගුණ කඳ සිහි කරන්න. ඒ නිසා බුදුරජාණන් වහන්සේ මේ ලෝක සත්ත්වයාට හිතානුකම්පාවෙන් කරුණාවෙන් මෛත්‍රියෙන් යම්කිසි ධර්මයක් දේශනා කලාද, ඒ ධර්මයෙන් මේ ලෝකයේ මාර්ගඵල ලාභීන් ගණන් කළ නොහැකි තරම් පහළ වුනාද, ඒ බුදුකිස භාග්‍යවතුන් වහන්සේ නිමාකොට වදාළා ද, ඒ බුදුරජාණන් වහන්සේ අපිට සැනසිල්ල පිණිසත් ඒ ධර්මය ලෝකයට දායාද කලා ද, ඒ තථාගත බුදුරජාණන් වහන්සේගේ උතුම් බුද්ධ ගුණයට නමස්කාර වේවා. ඒ උතුම් බුදුගුණයේ අනුහසින් ඔබ සුවයට පත්වේවා. ඉතින් මුලු හදවතින්ම බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ධර්මය සරණ යනවා, ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. බුද්ධ ගුණයේ අනුහසින් ඔබට සෙත් වේවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ කැලැමුල්ල මදුරගොඩ පදිංචි දැනට කොරියාවේ සේවයේ නියුතු පින්වත් අචිනි සශිකලා මහත්මිය සහ ප්‍රමෝෂ ඉඳුනිල් වීරසිංහ මහත්මයා. ඉතින් ඒ දෙපළ අද දවසේ තථාගත බුදුරජාණන් වහන්සේගේ බුද්ධ ගුණය, හදවත සිසිල් කරන බුද්ධ ගුණය ගැන දහම් දේශනාව ලෝක සත්ත්වයාට අහන්න සැලැස්සුවේ. ඉතින් ඒ පින් බලයෙන් බුදුරජාණන් වහන්සේගේ අනන්ත

බුද්ධ ගුණයේ ආනුභාවයෙන් මේ ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක් වුනු කොරෝනා වසංගතය දුරින්ම දුරු වේවා. රෝගී අය ඉක්මණින් සුවපත් වේවා. පැතිරයාම වළකීවා. මනුස්ස වර්ගයාට බියක් සැකක් නැතිව සුවසේ ජීවත් වෙන්න මේ පින් බලයත් උතුම් සම්බුදු ගුණයත්, උතුම් බුද්ධ ගුණයේ ආනුභාවයෙනුත්, බුදුරජාණන් වහන්සේගේ අපරිමිත බුදුගුණ වල ආනුභාවයෙනුත් සෙත් වේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම සියලු දෙවියන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වේවා. දෙවියෝ මේ පින්වතුනුත් මේ සියලු දෙනාත් ආරක්ෂා කරත්වා. ඒ වගේම මීට වසර කීපයකට පෙර මියපරලොව ගිය බී. හේමන්ත චන්ද්‍රරත්න පියාණන්ට, ඒ වගේම පොඩිනා මැණියන්ට, බී. හරමානිස් පියාණන්ට, රන්කිරා පියාණන්ට මේ පින් අනුමෝදන් වේවා, ඒ මියපරලොව ගිය සියලුම ඥාතීන්ට මේ පින් බලයෙන් පරලොව සැපය වේවා. ඒ වගේම පරම පූජනීය ගුරුදේවෝත්තම, කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ උතුම් සම්බුදු ගුණ අපිට කියලා දුන්නෙ. මේ බුද්ධ දේශනාව තුළ තියෙන බුදුගුණ එකින් එක අපිට කියලා දුන්නා. අපි ඉතිපිසෝ ගාථාවේ අර්ථයවත්, නමස්කාරයවත් හරියට කියාගන්න බැරිවයි හිටියෙ. ඉතින් ඒ නිසා පරම පූජනීය, ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන්වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලු ස්වාමීන් වහන්සේලාට, සිල් මැණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ධර්මාවබෝධය වේවා කියලා පින් පමුණුවනවා. ඒ වාගේම අප්‍රේල් මස දෙවෙනි දිනට ජන්මදිනය යෙදී තිබූ ආර්.ඩී. දයාකල්‍යාණවතී මැණියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා කියලා පින් පමුණුවනවා. ආර්.ඩී. ජොසපින් කිරිඅම්මා, අසෝකා මාලනී වීරසිංහ, ඒ වගේම විනීතා පුංචි, ඒ වගේම අත්තා සහ රුවනි නිසංසලා සහෝදරිය යන අයට නිදුක් නිරෝගී සුවපත්භාවය සැලසේවා. ඒ වගේම ස්වාමිපුරුෂයා වන ප්‍රමෝෂ ඉදුනිල් වීරසිංහ මහත්මයාට, එතුමාගේ වැඩකටයුතු සාර්ථකව කරගෙන යෑම පිණිස අද දවසේ මේ රැස් කරගත්ත පිණින් හේතු වාසනා වේවා, ආශිර්වාදය සැලසේවා. ඒ වාගේම අචිනි සශිකලා මහත්මියටත්, ඒ සියලු දෙනාටත්, පවුලේ සියලු දෙනාටත් පින් අනුමෝදන් වෙත්වා, නිදුක් නිරෝගී සුව, භාග්‍යවතුන් වහන්සේ බුද්ධ ගුණයෙන් ලෝකයට වදාළ ඒ උතුම් ශ්‍රී සද්ධර්මයෙන් සැනසෙන්න ඔබට වාසනාව ලැබේවා. මව් දෙමව්පිය, ඥාතී බන්ධුමිත්‍රාදීන්ට, ගුරුභවතුන්ට පින් අනුමෝදන් වේවා. ශ්‍රද්ධා රූපවාහිනිය,

ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට ඒ වගේම ඔබ සියලු දෙනාට, දායකත්වය සපයන සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් බුදුරජාණන් වහන්සේගේ බුදු ගුණම සිහි වේවා. මේ බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ලබාගන්න අසිරිමත් සම්බුදු සරණ සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=YLeJokSSbO8&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=28

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සමඟ ඔබ එකතු වෙන්නෙ. මනුස්සයෙකුට බුදුරජාණන් වහන්සේ ගැන අහන්න ලැබෙනවා කියන එක දුර්ලභ කාරණයක්. ශ්‍රී සද්ධර්මය අහන්න ලැබෙන එක දුර්ලභ කාරණයක්. මේ ධර්මය තේරුම් ගන්න ලැබෙනවා කියන එකත් දුර්ලභ කාරණයක්. ඉතින් ඒ වගේම කෙළෙහිගුණ පිහිටනවා කියන එකත් දුර්ලභ කාරණයක්. ඒ වගේම බුදුරජාණන් වහන්සේ දුර්ලභ මාණික්‍යය වදාළා. බුදුරජාණන් වහන්සේලා කල්ප සියයකටත් දුර්ලභයි. ඉතින් ඒ නිසා තුන් ලෝකයටම අග්‍ර උතුම් සම්මා සම්බුදුවරයෙක් ගැන සිත පහදවාගන්නකොට බොහෝ කාලයක් තමාට හිතසුව පිණිස පවතිනවා. ඒ නිසා බුදුරජාණන්

වහන්සේ එවැනි දුර්ලභ කාරණා වදාළා, බුදුරජාණන් වහන්සේලා ලෝකයේ කලාතුරකින් පහළ වෙන්නේ. ඒ නිසා තමයි මේ වගේ යසගෝෂාවක් කලාතුරකින් පැතිරෙන්නේ. ඉතින් ඒ නිසා සිත පහදවාගන්න බුදුරජාණන් වහන්සේ ගැන ශ්‍රවණය කරලා. ඉතින් අද අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ කැනඩාවේ ටොරොන්ටෝ මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ සැදැහැවත් පිරිසක් විසින්. නිපුනි, සුපුනි දරුවන්ට දියණිවරුන්ට ආශිර්වාද කිරීම පිණිසත්, ඒ වගේම මේ කොරෝනා වසංගතයට සහසම්බන්ධව ආරක්ෂක අංශයේ, ඒ වගේම වෛද්‍ය ඒ සෞඛ්‍ය අංශයේ ආදී ඒ නොයෙක් ක්ෂේත්‍ර වල පින්වතුන් බොහෝ සේ වෙහෙස මහන්සි වෙලා මේ මනුස්ස වර්ගයා බේරගන්න දරණ වෙහෙස සිහිකරලා ඒ ඇත්තන්ටත් අප්‍රමාණ පින් අනුමෝදන් කරන්න මේ පින්වතුන් බලාපොරොත්තු වෙනවා. ඉතින් පින්වතුනි අද අපි බුදුරජාණන් වහන්සේගේ නවඅරහාදී බුදුගුණ වලින් නවවෙනි බුදුගුණය කතා කරන්නෙ. එතකොට මම කල්පනා කලා, දැන් අද අපි නවවෙනි බුදුගුණය ‘භගවා’ කියන බුදුගුණය කතා කරන්නෙ. භගවා කියන බුදුගුණය පින්වතුනි ඒ භගවා කියන වචනය යෙදෙන්නේ මේ ලෝකයේ ගරු කළයුතු අයගෙන් උතුම්ම, ගරු කළ යුතු උතුම්ම කෙනාට පාවිච්චි කරන වචනය තමයි භගවා. උතුම්ම වචනය, ඒ භගවා කියන වචනය මව්පියන් විසින් දෙන එකක්වත්, ලෝකයෙන් දෙන පත්වීමක්වත්, උපාධියක්වත් නෙවෙයි. ඒ භගවා කියන භාග්‍යවතුන් වහන්සේ තුන් ලෝකයේ උතුම්ම ගරු කල යුතු කෙනා බවට පත්වෙන්නේ වජිරාසනයේ සම්මා සම්බුද්ධත්වයට පත්වීමත් එක්ක. ඒ නිසයි මං මුලින්ම කිව්වෙ මේ අනන්ත බුදුගුණ ඒ සව්කෙළෙසුන් නසන කොට ඒ වජිරාසනය මුලම සියලූම ගුණ උපදිනවා. ඉතින් සියලූම ගුණ එකතැනක උපදිනවා කියලා ඇත්ද, එවැනි වූ භාග්‍යයක් උදා කරගත්ත බුදුරජාණන් වහන්සේ භගවා වන සේක. සාමාන්‍යයෙන් අපි බුද්ධානුස්සති භාවනාවේදී භගවා කියන ගුණය ඉගෙන ගන්නේ, මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ සියලු සම්බුදු ගුණ දැරීමට තරම් භාග්‍යවන්ත වන සේක. කරුණාවෙන් සිසිල් වී ගිය සුන්දර හදමඬලක් දරාගැනීමට තරම් භාග්‍යවන්ත වනසේක. හිරුසඳු එළිය පරදින අනන්ත ප්‍රඥාලෝකය දරාගැනීමට තරම් භාග්‍යවන්ත වන සේක. මේ විදියට මහා පින්වන්ත, භාග්‍යවන්ත කියන වචනෙත් එක්කයි භගවා කියන බුදුගුණය අපි සිහි කරන්නෙ. ඇත්තටම බුදුරජාණන් වහන්සේ මේ තුන්ලෝකෙන්ම පිදුම් ලබන ගෞරවණීයම, උත්තම මහාපුරුෂ රත්නය. බුදුරජාණන් වහන්සේට

තමයි සකල ලෝකයාම වදින්නෙ. දැන් ප්‍රඥාවේ පර්වතයේ මුදුනටම නගින ලද, කල්පයක් තිස්සේ වැටෙන වැස්සේ වැහිබිඳු ගාන ප්‍රඥාවෙන් දකින්න හැකි සාරිපුත්ත මහරහතන් වහන්සේ දණ්ඩනමස්කාරයෙන් වදින්නේ බුදුරජාණන් වහන්සේට. හිරුසඳු අතගාන, මහපොළොව පෙරලලා මහා පොළොවේ පෘථිවිය අස්සෙන් මතුකරන්න හැකියාවක් තියෙන මහා ඍද්ධිමත් වූ මහා මොග්ගල්ලාන මහරහතන් වහන්සේ දණ්ඩ නමස්කාරයෙන් වදින්නේ බුදුරජාණන් වහන්සේට. ඊළඟට තමන්ගේ අත් දෙක එකතු කරලා වැන්දොත් යම්කිසි කෙනෙකුට එයාගෙ හිස ගැලවෙනවා. මහා කස්සප මහරහතන් වහන්සේ. මහාකස්සප මහරහතන් වහන්සේ තවත් කෙනෙකුට වැන්දොත් එයාගෙ හිස ගැලවෙනවා. මහාකස්සප මහරහතන් වහන්සේගෙන් වැඳුම් ලබන්න කෙනෙක් නෑ. එහෙව් මහාකශ්‍යප මහරහතන් වහන්සේ දණ්ඩ නමස්කාරයෙන් වදිනවා බුදුරජාණන් වහන්සේට. සත්තා මේ භගවා, භාග්‍යවතුන් වහන්සේ මාගේ ශාස්තෘන් වහන්සේ වන සේක. ශ්‍රාවකෝ හමස්මිං, මම ශ්‍රාවකයා. භගවා ජානාති, මාගේ ජීවිතයේ සියල්ල දන්නේ බුදුරජාණන් වහන්සේ. අහං නජානාමි, මා කිසිවක් දන්නේ නෑ. සත්තා මේ භගවා සාවකෝ හමස්මි භගවතෝ ජානාති අහං නජානාමි කියලා තමයි මහා කාශ්‍යපයන් පැවිදි වෙන්න ආපු ගමන් බුදුරජාණන් වහන්සේ ළඟ වැඳ වැටුනේ. බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ වදාළා, කස්සප වෙන නොදන්නා නොදකිනා කෙනෙක් ඉදිරියේ ඔය විදියට වැන්දොත් එහෙම එයාගේ හිස ගැලවෙයි කිව්වා, එච්චර ශ්‍රද්ධාවකින්, එච්චර ශ්‍රාවකත්වයකින්. ඉතින් ඒ නිසා එතනින් පස්සේ පහළ වුනු අපේ ආනන්ද ස්වාමීන් වහන්සේ, නන්ද, රාහුල ආදී උතුම් සියලූම රහතන් වහන්සේලා, සියලූම රහත් මෙහෙණින් වහන්සේලා ඒ වගේම උතුම් ගුණ තියෙන උපාසක උපාසිකාවෝ එකපැහැර සාදුකාර දිදී වඳිද්දි බුදුරජාණන් වහන්සේ එයට සුදුසු වන සේක. ඒ සියල්ල දරාගැනීමට භාග්‍යය ඇති සේක. භගවා වන සේක. භගවා වන සේක. ඒ සියල්ලටම භාග්‍යය තියෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේට මහාබ්‍රහ්මයා සේසත් දරනවා. සුයාම දෙව්පුතු පවන් සලනවා. සක්දෙවිඳු සක් පිඹිනවා. පංචසික වීණා වයනවා. සකල දෙවියන්ගෙන් බඹුන්නේ උපස්ථාන ලැබීමට තරම් භාග්‍යය ඇති සේක. මේ ලෝකයාම වඳින මහා බ්‍රහ්මයා බුදුරජාණන් වහන්සේගේ සිරිපාවට පෑගෙන දූවිල්ලෙන් නළලේ තිලක තියනවා. භාග්‍යය බුදුරජාණන් වහන්සේගේ ආනුභාවය. ඊළඟට සාමාන්‍යයෙන් පින්වතුනි ගොඩාක් අයට තියෙන්නෙ ගුණ දරන්න අමාරුයි. කීර්තිය පැතිරෙනකොට ඒක දරාගන්න බෑ, මොකාක්හරි අර්බුදයක්

ඇතිකරගන්නවා. ඊළඟට යසස පැතිරෙනකොට එයින් අර්බුද ඇතිකරගන්නවා. අපේ බුදුරජාණන් වහන්සේ අනන්ත ගුණ, නවඅරහාදී සම්බුදුගුණ, දස බල ඥාණ, විශාරද ඥාණ, සියලූ ෂඩ් අසාධාරණ ඥාණ, සියලු සම්බුදු ඥාණ එකම හදවතක් තුළ දරාගෙන සිටිනවා, භාග්‍යවතුන් වහන්සේ එයින් කිසිම භාග්‍යවතුන් වහන්සේට අපහසුවක් නෑ, භාග්‍යවතුන් වහන්සේගේ සම්බුද්ධ කෘත්‍යයට පහසුවක්මයි ඒක. ඒ සියලු ගුණ දරාගැනීමට තරම් භාග්‍යවන්ත වන සේක. බුදුරජාණන් වහන්සේට අරහං කියන්නේ, නිකෙලෙස්, රාග ද්වේෂ මෝහ දුරු කරපු, සියලු ලෝවැසියන්ගේ ආමිස පූජාවන්ට, ප්‍රතිපත්ති පූජාවන්ට සුදුසු වූ බුදුරජාණන් වහන්සේ එය දරාගැනීමට තරම් භාග්‍යවන්ත වන සේක. භගවා. චතුරාර්ය සත්‍යය ධර්මය ගුරු උපදේශ රහිතවම, සියලු ධර්මතා ගුරුවරයෙක් නැතිවම තනියෙන් අවබෝධ කරගත්තා, එවැනි අවබෝධයක් දරාගෙන සිටීමට තරම් භාග්‍යවන්ත වන සේක. අනන්ත ඥාණ තියෙනවා බුදුරජාණන් වහන්සේට. සෘද්ධිවිධ ඥාණය, මනෝමය සෘද්ධි ඥාණය, චුතූපපාත ඥාණය, දිබ්බචක්ඛු ඥාණය, දිබ්බසෝත ඥාණය, චේතෝපරිය ඥාණය, ඉන්ද්‍රියපරෝපරියත්ත ඥාණය, ආසයානුස ඥාණය, යමකමහා ප්‍රාතිහාර්ය ඥාණය, මහාකරුණා සමාපත්ති ඥාණය, ඊළඟට ආසවක්ඛය ඥාණය, බුද්ධ ඥාණය, සර්වඥතා ඥාණය, ආදී දස බල ඥාණ, විශාරද ඥාණ මේ ආදී සියලූම ඥාණ දරාගැනීමටත් ඒ සියලු ඥාණයන්ට අනුව ජීවත්වීමට හැසිරීමට තරම් විජ්ජාචරණ සම්පන්න ගුණය දරාගැනීමට තරම් භාග්‍යය ඇති සේක. විජ්ජාචරණ සම්පන්න ගුණය දරාගැනීමට භාග්‍යයයි. දැන් බලන්න සමහර අයට තියෙනවා ඔන්න, සමහර ළමයි විභාගෙ පාස් වෙනවා ඉහළින්ම. ඒ විභාගෙ පාස් ලංකාවෙන්ම පළවෙනියා කියපු ගමන්ම පපුව පැළිලා මැරෙනවා. සමහර අයට ඔන්න ටිකට් ඇදෙනවා. ටිකට් එක ඇදුනා කියපු ගමන් පපුව හිරවෙලා මැරෙනවා. නිධානයක් පහළ වුනා කියනවා, පපුව හිරවෙලා මැරෙනවා. ඒක ලැබෙනවා, දරාගන්න බෑ. දරාගන්න බෑ. සමහර අයට පුංචි සතුට දරාගන්න බෑ. පපුව හිරවෙනවා. බුදුරජාණන් වහන්සේ සුගත, සුන්දර වූ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගිහිල්ලා සුන්දර වූ නිවන ලබාගත්තා. සොඳුරු නිවනට පත්වුනා. සුන්දර ආර්ය අෂ්ටාංගික මාර්ගය ප්‍රගුණ කලා. සුන්දර කතා ඇති, සුන්දර ගමන් විලාශ ඇති, සුන්දර ජීවිතයක් බුදුරජාණන් වහන්සේ දරාගත්තා, භාග්‍යවන්ත වන සේක. ඊළඟට සියලූම ලෝකයන් අවබෝධ කරගෙන ඒ සියලු ලෝකයන්ගෙන් නිදහස් වී වැඩ සිටියා. එය දරාගැනීමට භාග්‍යවන්ත වුනා. දැන් අද කාලෙ සමහරවෙලාවට යම්

දෙයක් ගැන කල්පනා කරනකොට සිහි විකල් වෙනවා. අර එක විද්‍යාඥයෙක් හිටියා, ඒ විද්‍යාඥයා ඔය වාගේ පර්යේෂණ කර කර හිටියා. ඒ විද්‍යාඥයාට, දැන් ඒ විද්‍යාඥයාගේ ගෙදර බළල් පැටව් දෙන්නෙක් හිටියා, එක්කෙනෙක් ලොකුයි, අනිත් එක්කෙනා පොඩියි, ඉතින් හැම වෙලාවෙම ඇගේ හැප්පෙනවා. ඊටපස්සෙ මෙයා මොකද කලේ, මේ දෙන්නා ලැබ් එක ඇතුලට ගත්තා. දැන් එළියට යන්න බෑ ඒක හරහා. ඒ එළියට දැම්මට පස්සෙ ඇතුළට එන්න කෑ ගහනවා. එතකොට මෙයා මොකද කලේ, මෙයා ඒ දොරේ ලොකු බළලාට එන්න ලොකු සිදුරකුයි, පොඩි බළලාට එන්න පොඩි සිදුරකුයි හැදුවා. එතකොට එයා අර පර්යේෂණේ සංඥාවෙන් ඉන්නෙ. එතකොට එයාට තේරෙන්නෑ එක සිදුරකින් දෙන්නටම එන්න පුලුවන් කියලා. ඒ කල්පනාව නෑ. ඊළඟට සමහර විද්‍යාඥයෙක් ඉන්නවා මට ඒ විද්‍යාඥයන්ගේ නම් මතක නෑ. එතකොට එක විද්‍යාඥයෙක් හිටියා එයා හිඟන්නෙක් බවට පත්වුනා. හිඟන්නෙක් බවට පත්වෙලා එයා මැරුණා. නමුත් එයා හොයාගත්ත පර්යේෂණය ලෝකයේ ඉහළින් කතා කරනවා. ඊළඟට ගොඩාක් විද්‍යාඥයන්ගේ පවුල් වල අර්බුද, පවුල් කැඩිලා. ඊළඟට ගොඩාක් විද්‍යාඥයෝ අවසානයේදී මානසික ආබාධ වලට ලක්වුනා. එතකොට මේ විදියට මොනවාහරි දෙයක් සොයාගෙන යනවා, අවසානයේදී ඔළුව අවුල් කරගන්නවා. ලෝකයේ මිනිස්සු හොයාගත්ත දේ ඉහළින් කතා කරනවා. එතකොට භාග්‍යවතුන් වහන්සේ සකල ලෝකය, අපි ලෝකවිදූ ගුණය ඉගෙනගන්නකොට ඉගෙන ගත්තනෙ, සකල ලෝකය අවබෝධ කලා, ඒ අවබෝධ කරගත්ත දේවල් දරාගැනීමට භාග්‍යවන්තයි. අනන්ත කාරුණික බවින් නිහතමානී ගුණයෙන් බුදුරජාණන් වහන්සේ බබළනවා. භාග්‍යවන්ත වන සේක. ඊළඟට බුදුරජාණන් වහන්සේ ලොව දමනය කරනවා. බුදුරජාණන් වහන්සේ ලෝකය දමනය කරනවා. එතකොට ඍද්ධි ප්‍රාතිහාර්යයෙන්, ආදේශනා ප්‍රාතිහාර්යයෙන්, ඊළඟට අවවාද ප්‍රාතිහාර්යයෙන් මේ ලෝකයේම මහා බ්‍රහ්මයාගේ පටන් සියලු දෙනාම බුදුරජාණන් වහන්සේට දමනය වුනානෙ පින් තියෙන සියලු දෙනා. ඒ ලෝකයා දමනය කිරීමට තරම් භාග්‍යය ඇති සේක. සියලු දෙවියන්ටත් සියලු මිනිසුන්ටත් එකම ශාස්තෘන් වහන්සේ වීමට තරම් භාග්‍යවන්ත වන සේක. අවබෝධ කරගත්තා වූ චතුරාර්ය සත්‍යය ධර්මය අන් අයට දේශනා කිරීමට තරම්, මගඵල ලාභීන් බිහිකිරීමට තරම්, පුණ්‍යවන්තයින් බිහිකිරීමට තරම් බුදුරජාණන් වහන්සේ භාග්‍යවන්ත වන සේක. භගවා. මෙසේ අනන්ත සම්බුදු ගුණ දරාගැනීමට තරම් භාග්‍යවන්ත වන සේක. හිරුසඳු එළිය පරදන අනන්ත

ප්‍රඥාලෝකයක් බුදුරජාණන් වහන්සේට තිබුනේ. එය දරාගැනීමට තරම් භාග්‍යය ඇති සේක. භාග්‍යවතුන් වහන්සේගේ නෙත් සඟලේ තිබුනු නෙත් බව තමයි කරුණාව. මහා කරුණාවෙන් ලෝකය දෙස බැලීමට තරම්, ලෝකයාට මහාකරුණාවෙන් පිහිට වීමට තරම් භාග්‍යවන්ත වන සේක. භාග්‍යවතුන් වහන්සේගේ හදවත කරුණාවෙනුයි මෛත්‍රියෙනුයි සිසිල් වෙවී තිබුනේ. ඉතින් ඒ බුදුරජාණන් වහන්සේ තරම් වැඩ කටයුතු අධික කෙනෙක් තුන්ලෝකෙම නෑ පින්වත්නි. දැන් රජ කෙනෙක් වුනාට පස්සෙ, දැන් ලංකාවෙ නම් ලංකාවට අදාළ කටයුතු ටික තියෙන්නෙ. අපි ගත්තොත් එහෙම වෙන විශාල, අපි අධිරාජ්‍යයක් ගත්තොත් එහෙම අපි කියමු එංගලන්තයේ මහරැජිණට යටත්ව තියෙන සියලු රාජ්‍යය ගත්තොත් එහෙම ඒ රාජ්‍යය ටිකේ තමයි කටයුතු ටික තියෙන්නෙ. අපේ බුදුරජාණන් වහන්සේට, බුදුරජාණන් වහන්සේ මේ පෘථිවි මණ්ඩලයෙත් බලනවා, දිව්‍යලෝක හයත් බලනවා. බ්‍රහ්ම ලෝක සියල්ලත් බලනවා. තිරිසන් ලෝකෙ තිරිසන් සතෙක් හරි කමක් නෑ, උන්වහන්සේ දැකලා සිත පහදවාගෙන සුගතියේ උපදිනවා නම් ඒ තිරිසන් සතා ඉන්න තැන භාග්‍යවතුන් වහන්සේ වඩිනවා. පන්සිල් රකින්න පුරුදු කරන්න පුලුවන් අයට පන්සිල් දීම පිණිස වඩිනවා. සරණේ පිහිටවන්න පුලුවන් අය තිසරණේ පිහිටවන්න වඩිනවා. සෝවාන් වෙන්න පින තියෙන අය සොයාගෙන මාස තුනක් හරි කමක් නෑ, සෝවාන් වීම පිණිස හික්මවන්න වඩිනවා. සකදාගාමී වීම පිණිස පින තියෙන අය ඒකෙ හික්මවන්න වඩිනවා. අනාගාමී වීම වෙන්න පින තියෙන අය අනාගාමී වීම පිණිස වඩිනවා. ඊළඟට රහත් වෙන්න පින තියෙන අය හොයාගෙන අර්හත්වය ලබාදීම පිණිස වඩිනවා. නිරයේ යන්න පුලුවන් සත්තු ඉන්නවා නම්, ඒකෙන් ගොඩගන්න පුලුවන් නම්, රැස් මාලාවක් හරි විහිදවලා ඒ කෙනාව බේරගන්න වඩිනවා. ඊළඟට, ඊළඟ මොහොතේ මැරෙන කෙනෙක් ඉන්නවා නම් ඊට කලින් චිත්ත ප්‍රසාදයකින්, වැඳලා හරි පිනක් ගන්න තියෙනවා නම් තවත් කෙනෙක් කැටුව හරි ගිහිල්ලා එයාට වඳින්න සලස්වලා හරි බුදුරජාණන් වහන්සේ එයාව බේරගන්නවා. මේ මිහිමඩලේ, ඊළඟට සංසාරයේ, තවත් අනාගතයේ පාරමී ධර්මයන් පුරන්න විවරණ ගන්න අය සෙයාගෙන ඒ අයට විවරණ දීම පිණිස වඩිනවා. ඊළඟට කල්ප අසංඛෙය්‍යය ගාණක්, කල්ප ලක්ෂයක් නොයෙක් පාරමී ධර්ම පුරාගෙන එන අය ඉන්නවා බුදු කෙනෙක් යටතේ පිහිට ගන්න. ඒ අය සොයාගෙන වඩිනවා. ගමෙන් ගමට, ජනපදයෙන් ජනපදයට, නගරයෙන් නගරයට, රජමැදුරෙන් රජමැදුරට, දෙව් විමනින් දෙව් විමනට, බ්‍රහ්ම ලෝකෙන් බ්‍රහ්ම ලෝකයට, සක්වලින් සක්වලට

වඩිනවා. තවත් කොහේ හරි ඈත සක්වලක තවත් කෙනෙක් පිහිටක් ගන්නවා නම් බුදුරජාණන් වහන්සේ ඔහු වෙනුවෙන් වඩිනවා. ඒ අතර බුදුරජාණන් වහන්සේ පැවිදි කරන අය පැවිදි කරනවා. ඒ අතරෙ උපසම්පදා කරන අය උපසම්පදා කරනවා. ඒ අතරෙ දෙවිවරුන්ගේ ප්‍රශ්ණ විසඳනවා. මිනිස්සුන්ගේ ප්‍රශ්න විසඳනවා. ඒ අතරෙ බුදුරජාණන් වහන්සේ සුනීත ඉන්න මාවතට වඩිනවා. ඒ අතරේ බුදුරජාණන් වහන්සේ අංගුලිමාල ඉන්න වනයට වඩිනවා. ඒ අතරේ බුදුරජාණන් වහන්සේ ආලවකගේ විමානයට වඩිනවා. බුදුරජාණන් වහන්සේ ඒ අතරේ භිකෂූන්ට ශික්ෂාපද පනවනවා. ධර්මය දේශනා කරනවා. හයවතාවක් භික්ෂූන්ගේ හිත බලනවා දවසට. ඒ අතරේ බුදුරජාණන් වහන්සේ පිණ්ඩපාතෙ වඩිනවා. ඒ අතරේ සක්මන් කරනවා. ඒ අතරේ බුදුරජාණන් වහන්සේ දහම් ගැටළු විසඳනවා. ඒ අතරේ බුදුරජාණන් වහන්සේ පාරිලෙයය වනයට වඩිනවා. ඒ අතරේ බුදුරජාණන් වහන්සේ අසූ වෙනි වියේ, සුභද්‍ර වෙනුවෙන්, සුභද්‍ර යම්තාක් දුර ඈත් ද, ඒ තාක් දුර උන්වහන්සේ පා ගමනින් වඩිනවා. උන්වහන්සේ පිරිනිවන් මංචකයේ වැඩ ඉද්දිනුත් ධර්මය දේශනා කරනවා. මහා සුදස්සන සූත්‍රය කියන්නෙ, දීඝ නිකායේ තියෙන්නෙ, ඒ මහා සුදර්ශන සූත්‍රය බුදුරජාණන් වහන්සේ පිරිනවන් මංචකයේ වැඩ හිඳිද්දින් වදාළේ. දීර්ඝ දේශනාවක්. එතකොට පිරිනිවන් පාන මොහොතෙත් භාග්‍යවතුන් වහන්සේ ඒ කටයුතු. ඒ අතරේ මිනිස්සුන්ටත් කතා කරනවා. සුභද්‍රගේ ප්‍රශ්නවලටත් උත්තර දෙනවා. සක්දෙවිඳුට ලංකාවේ විස්තර කියලා ලංකාව ආරක්ෂා කරන්නත් පවරනවා. සක්වළවල යම්තාක් විස්තර ඇත්ද, ඒ ඔක්කෝම දෙවිවරුන්ට විස්තර කරනවා. එක වෙලාවේ තනියෙන් මේ කටයුතු කරන්න බෑ කියලා බුදුරජාණන් වහන්සේ බුදුවරු පන්සීයයක් මවනවා. බුදුරජාණන් වහන්සේ තරම් මේ ලෝකයේ කටයුතු කරපු කෙනෙක්, ඒ අතරේ සමාධිසමාපත්ති වලට සමවදිනවා. ඒ අතරේ මිත්‍යාදෘෂ්ටි දුරු කරනවා. අන්‍ය තීර්ථකයන්ගේ මිත්‍යා අදහස් බැහැර කරවනවා. අනේකවිධ සුවාසූ දහසක් වූ ධර්මස්කන්ධයන් ඒ අතරේ දේශනා කරනවා. මේ තුන් ලෝක ධාතුවේ බුදුරජාණන් වහන්සේ තරම් කටයුතු කරපු කෙනෙක් නම්, බුදුරජාණන් වහන්සේ තරම් නම්, ඒ අතරේ ලංකාවටත් වඩිනවා. ලංකාවේ චූලෝදර, මහෝදර සටන් සංසිඳවනවා. යක්ෂයෝ පළවාහරිනවා. ඊළඟට මේ සොළොස්මස්ථාන, අටමස්ථාන, ආදී නොයෙක් තැන වැඩ ඉඳලා මේ භූමිය පූජනීය කරනවා. අනාගතයේ ධාතූන් වහන්සේලා වැඩ ඉන්න තැන්වල භූමිය දෙවිවරුන්ට භාර කරනවා. පිරිනිවන් පාන වෙලාවේ බෝධීන් වහන්සේ

වෙනුවෙන් අධිෂ්ඨාන කරනවා. රුවන්වැලිසෑය, ථූපාරාමය වෙනුවෙන් අධිෂ්ඨාන කරනවා. ධාතු පරිනිර්වාණය සිද්ධ වෙනහැටි අධිෂ්ඨාන කරනවා. ඒ ඔක්කෝම බුදුරජාණන් වහන්සේ නමක් කරනවානෙ තනියෙන්. බුද්ධ කෘත්‍යය. මේ සියල්ලම කරනවා වීර්යයෙන්. උන්වහන්සේට වෙහෙසක් නෑ. අපහසුවක් නෑ, පීඩාවක් නෑ, කරදරයක් නෑ. ඒ නිසා බුදුරජාණන් වහන්සේට කියනවා භගවා කියලා. බුදුරජාණන් වහන්සේ ආනන්ද ස්වාමීන් වහන්සේගෙන් උපස්ථාන ලබනවා වගේම පාරිලයෙයක වනයේ, පාරිලෙය්‍යක හස්තිරාජයාගේ උපස්ථාන ලබනවා. ඒ හස්තියා බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න වෘක්ෂය වටේ අතුගානවා, හොඬවැලෙන් අත්තක් කඩාගෙන. ඊටපස්සෙ වනයේ තියෙන අඹ, ඊළඟට කෙසෙල්, පළතුරු ගෙනල්ලා පාත්‍රයට පූජා කරනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේට පැන් ගෙනල්ලා පූජා කරනවා. ඊටපස්සෙ මහා වනයේ ඒ හස්තියා එක කකුලකින් ලීයක් පාගගෙන, හොඬවැලෙන් ලීයක් අරන් ඒ දෙක අතුල්ලලා ගින්දර උපද්දවනවා. ඒකට ලී කෑලි දාලා ගිනි මැලයක් ගහනවා. ඊළඟට ඒකට ගලක් දාලා ගල රත් කරනවා ගිනි මැලයේ. තව දණ්ඩකින් අර ගල තල්ලු කරලා තල්ලු කරලා ළඟ තියෙන පොඩි පොකුණකට දානවා. ඒ පොකුණේ වතුර ඊළඟට රත්වෙනවා. ඊළඟට ඇවිල්ලා බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී හස්තය හොඬවැලෙන් අල්ලාගෙන උණුවතුර පිණිස රැගෙන යනවා, පැන් පහසු කරවනවා. ඊළඟට භාග්‍යවතුන් වහන්සේ සැතපිලා ඉන්නකොට කෙසෙල් අත්තක් ගෙනල්ලා හොඬවැලෙන් පවන් සලනවා. මැසි මදුරුවො පළවාහරිනවා. පාරිලෙය්‍යක ඇතා. කිසි කෙනෙකුට එන්න දෙන් නෑ. භාග්‍යවතුන් වහන්සේ සැතපෙනකොට, භාවනා කරනකොට අඩිය ඇහෙන්නැති දුරකට ගිහිල්ලා හොඬවැලෙන් දණ්ඩක් අරගෙන වටේට රවුම්, භාවනාව ඉවරවෙනකල්, නැගිටිනකල්, එළිවෙනකල්, සක්මන් කරනවා පාරිලෙය්‍යක ඇතා. ඊටපස්සෙ ආනන්ද ස්වාමීන් වහන්සේ ඈතින් එනකොට, දැන් අඳුනන්නෙ නැතිව අපේ භාග්‍යවතුන් වහන්සේට කරදරයක් වෙයි කියලා දිග පොල්ලක් හොඬවැලෙන් උස්සගෙන ආනන්ද ස්වාමීන් වහන්සේ පැත්තට ගිහිල්ලා තියෙනවා පාරිලෙය්‍යක ඇතා. බුදුරජාණන් වහන්සේ වදාළා පුත්‍රය ඔය මාගේ උපස්ථායක. මෙහෙට එන්න දෙන්න කියලා. ඊටපස්සෙ තමයි ආනන්ද ස්වාමීන් වහන්සේ එක්ක, ආනන්ද ස්වාමීන්වහන්සේව ගෙන්නගෙන ආවෙ. ආනන්ද ස්වාමීන් වහන්සේ සේ ඇතුන්ගෙන් පවා උපස්ථාන ලැබුවා. ඊටපස්සේ මහා නාගයන් උන්වහන්සේ වටා දරණලාගෙන පෙණ ගොබය තියාගෙන හිටියා, ඒ නාගයන්ගේ දරණ

කුටියක් කොට වාසය කලා. ඒ අතරතුරම ගන්ධ කුටියේ වාසය කලා. ඒ වගේම මහා වනයේ ගිරිගුහා වල වාසය කලා. ඒ වගේම පාණ්ඩුකම්බල ශෛලාසනයේ වාසය කලා. බ්‍රහ්මයන්ගේ බ්‍රහ්ම විමාන වල වාසය කලා. බුදුරජාණන් වහන්සේ ඒ සියලූම පුද සත්කාර ලැබීමට භාග්‍යය ඇති සේක. වාසනාව ඇති සේක. ඒ නිසා තමයි භගවා කියන්නෙ. ඊළඟට එකම හද මඩලකින් බලන්න පන්සාලිස් වසක් පුරාවට දේශනා කරපු ශ්‍රී සද්ධර්මය අතට ගත්තු ඇට්ටේරියා කොළ ටිකක් වගේ. උන්වහන්සේ අවබෝධ කරපු ඥාණය, අවබෝධ කරපු ධර්මය ඇට්ටේරියා වනයක් වගේ. එතකොට එච්චර දැනුමකින්, එච්චර අවබෝධයකින්, එච්චර ප්‍රඥාවකින් වාසය කරන්න තරම් භාග්‍යය ඇති සේක. බුදුරජාණන් වහන්සේ සාරිපුත්ත මහරහතන් වහන්සේට වදාළා, සාරිපුත්ත, මේ ලෝකෙ මිනිස්සු කතා වෙනවා මිනිස්සුන්ට වයසට ගියාට පස්සෙ මොළේ නැතිවෙනවා කියලා, කල්පනා ශක්තිය නැතිවෙනවා කියලා, සාරිපුත්ත මේ ලෝකෙ මිනිස්සු කතා වෙනවා. සාරිපුත්ත මම දැන් සාරිපුත්ත මට වයස අසූවයි. සාරිපුත්ත මම මාගේ ශරීරය ඇඳක තියලා, දැන් මට ඇවිදගන්න බෑ කියලා හිතමුකො. සාරිපුත්ත මාගේ ශරීරය මට ඇවිදගන්න බැරිව හොඳටම වයෝවෘද්ධ වෙලා දිරලා ඇඳේ වැතිරිලා තියෙනවා. එක වෙලාවේ කරුණු ලක්ෂ ගාණක් විමසන්න පුලුවන්. එක වෙලාවේ බොහෝ තියුණු ගණන්, ඒ කියන්නෙ සාරවේදී, ඒ කියන්නෙ තීක්ෂණ නුවණ තියෙන ශ්‍රාවකයෝ හතරදෙනෙක් ඇඳේ හතර පැත්තෙ ඉඳලා එක ප්‍රශ්නයක් අහලා ඒකට උත්තර දීපු ගමන් තත්පරයක් යන්න කලින් ඊළඟ එක්කෙනා අහනවා, ඒ වගේ හතර දෙනා හතර පැත්තෙ ඉඳලා මම ලෙඩ ඇඳේ ඉද්දින් අවුරුදු අසූව පිරුණට පස්සෙ ඒත් හතර පැත්තෙන් හතරදෙනෙක් ඉඳලා ශ්‍රාවකයො තියුණු නුවණින් ප්‍රශ්න ඇහුවත් ඒ අය ආයුෂ ඉවරවෙලා ඒ අය මැරෙයි කිව්වා, බුදුරජාණන් වහන්සේගේ ප්‍රශ්න වලට උත්තර දීමේ හැකියාව නම් මොහොතක් අඩුවෙන්නෑ කිව්වා. උගුර පෑදීමක්, කැස්සක්, අමාරුවක් ඒවා බුදුරජාණන් වහන්සේට ඇතිවෙන් නෑ කිව්වා. බුදුරජාණන් වහන්සේගේ ඥාණයේ චූටි වෙනසක්වත් දකින්න ලැබෙන්නෑ කිව්වා. ඒ සා වූ සිංහනාද කරන්න තරම් මාගේ භාග්‍යවතුන් වහන්සේ භාග්‍යවන්ත වන සේක. එවැනි වූ ඥාණයකින්, එවැනි වූ ධර්මයකින් මේ ලෝක සත්ත්වයාම සසර දුකින් එතෙර වුනේ බුදුරජාණන් වහන්සේ නිසා. ඒ වගේම බුදුරජාණන් වහන්සේ දසබල ඥාණ, විශාරද ඥාණ සියලු ඥාණ දරාගැනීමට තරම් භාග්‍යය ඇති සේක. සියලු ධර්ම කාය දරාගැනීමට තරම් භාග්‍යය ඇති සේක. සාරිපුත්ත මහරහතන් වහන්සේ පටන්

අද මේ දහම් දෙසන මා දක්වාම, අනාගතයටත් මේ සියලු ධර්මයම කතා කරන්නේ බුදුරජාණන් වහන්සේ ධර්ම ධාතුව අවබෝධ කරලා දේශනා කරපු නිසා. බුදු කෙනෙක් ධර්මය දේශනා නොකලා නම් මේ කිසිම දෙයක් නෑ. ඒ නිසා තමන්ගේ වචනයේ ඒ සා ආනුභාවක් තියෙනවා. බුදුරජාණන් වහන්සේ දේශනා කරන සූත්‍රයෙන් වැසි නොවසින කාලයේ වැස්ස වහිනවා. රෝගාදී පීඩා එන කාලෙ මිනිස්සුන්ට ආරක්ෂාව පිණිස පවතිනවා. යක්ෂ අමනුස්ස ආදී සියලුම දෝෂ වලින් ආරක්ෂාව පිණිස පවතිනවා. සුවසේ කෙළෙස් දුරුකරගැනීම පිණිස පවතිනවා. ඒ එවැනි වූ වචන ඇති බුදුරජාණන් වහන්සේ භාග්‍යවන්ත වන සේක. ඒ නිසා පින්වතුනි මේ ආදී වශයෙන්, ඊළඟට බුදුරජාණන් වහන්සේට යස පිරිවර, දැන් ඔබ ගත්තොත් ඔබ වටේ ඉන්න සියලු දෙනාටම වගේ කෙලෙස් තියෙනවානෙ. එතකොට අපි අද කාලෙ ඉන්නෙ කෙලෙස් තියෙන අය පිරිවරාගෙන. කතා කරන්නෙ, යන්නෙ, එන්නෙ, ඔක්කෝම රාග ද්වේෂ මෝහ වලින් පීඩා විඳින අයත් එක්ක. බුදුරජාණන් වහන්සේ ඇසුරු කලේ සාරිපුත්ත මහරහතන් වහන්සේ නැමැති නිකෙලෙස් මුණිවරයන්. මුගලන් මහරහතන් වහන්සේ වැනි නිකෙළෙස් මුණිවරයාණන් වහන්සේලා. මහා කාශ්‍යපයන් වහන්සේ නැමැති නිකෙළෙස් මුණිවරයාණන් වහන්සේලා. ආනන්ද ස්වාමීන් වහන්සේ නමුත්, ආනන්ද ස්වාමීන් වහන්සේට පැවිදි වෙච්ච දා ඉඳලා රාග සිතිවිල්ලක් ඇතිවෙලා නෑ, තරහ සිතිවිල්ලක් ඇතිවෙලා නෑ. හිංසා සිතිවිල්ලක් ඇතිවෙලා නෑ. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මේ ආනන්දගේ ප්‍රඥාව අතිශයින් දුර්ලභ ප්‍රඥාවක් ආනන්දට තියෙන්නෙ කියනවා. ආනන්ද තරම් නුවණ තියෙන කෙනෙක් මේ පිරිස් අතර හොයාගන්න නැති තරම් කියනවා. එච්චර දුර්ලභ තියුණු නුවණක් ආනන්දයන් වහන්සේට තියෙනවා. තොල් සොලවන පමණින්, බුදුරජාණන් වහන්සේ හැරෙන පමණින් ඒ අදහස කියන්න පුලුවන් තත්ත්වයක් ආනන්ද ස්වාමීන් වහන්සේට තිබුනා. එතකොට කල්පයක් පවතින් තේජස පවතින අංගුලිමාල මහරහතන් වහන්සේ, අනුරුද්ධ මහරහතන් වහන්සේ, මහා දිවැස් ලාභීන් අතර අග්‍ර. කිවිසුමක් වත් අවුරුදු එකසිය විස්සටම ගියෙ නැති බක්කුල මහරහතන් වහන්සේ. මේ වාගේ නිකෙලෙස් මහා මුණිවරු පිරිවරාගෙන බුදුරජාණන් වහන්සේ ඉන්නේ. එතකොට පින්වතුනි, හිමාල පර්වත රාජයා පිරිවරාගෙන මහා ඖෂධ වෘක්ෂයෝ වැඩෙනවා වගේ, බුදුරජාණන් වහන්සේ පිරිවරාගෙන මහරහතන් වහන්සේලා ලෝකයේ පහළ වෙනවා. ඊළඟට හිමාල පර්වත රාජයාගෙන් කුඩා කුඩා පර්වත මහා පර්වත රාජයන් වහන්සේ පිරිවරා

ගන්නවා වගේ බුදුරජාණන් වහන්සේ පිරිවරාගෙනම අනෙක් සියලු මහරහතන් වහන්සේලා වැඩ සිටිනවා. ඉතින් ඒ බුදුරජාණන් වහන්සේ ඒ කාරණාවෙනුත් මහා පින්වන්තයි, භාග්‍යවන්තයි. දෙවියන් කෝටි ප්‍රකෝටි ගණන් දෙවියන්, කෝටි ප්‍රකෝටි ගණන් බ්‍රහ්මයන් බුදුරජාණන් වහන්සේ පිරිවරා ගන්නවා. මහා යස පිරිවරක් තියෙනවා කියලා යමක් ඇත්ද, මේක බුදුරජාණන් වහන්සේගේ භාග්‍යයක්. ඊළඟට පින්වතුනි, බුදුරජාණන් වහන්සේ නා ලොව නාගයින්ගෙනුත්, මනුලොව මිනිස්සුන්ගෙනුත් අනේක අප්‍රමාණ ප්‍රශංසා ලබනවා. ඒ බුදුරජාණන් වහන්සේ ඒ ප්‍රශංසා ලබමින් වාසය කරනවා. මනුස්ස ලෝකෙ දිව්‍ය ලෝකෙ, බ්‍රහ්ම ලෝකෙ ඒ සියලූම දෙනාගෙන් ප්‍රශංසා ලබනවා ඒ වගේම පින්වතුනි, බලන්න බුදුරජාණන් වහන්සේ බුද්ධ කෝලහාලයේ පටන්, අනාගතයට බුදුකෙනෙක් පහළ වෙනවා කියන තැන බුද්ධ කෝලහාලයේ පටන් ලෝකයේ බුදු ගුණම කියැවෙනවා. ඉපදෙනකොටත් බුදු ගුණ, අභිනිෂ්ක්‍රමණය කරනකොටත් බුදුගුණ, කොහේ හරි, මනුස්ස ලෝකෙ හරි, නාග ලෝකෙ හරි, දිව්‍ය ලෝකෙ හරි, බ්‍රහ්ම ලෝකෙ හරි හැම වෙලාවෙම බුදුගුණ කියනවා. අද දක්වාම බුදු ගුණ කියනවා. මේ තුන් ලෝකෙම බුදුගුණ කියවෙන්නැති තත්පරයක් නෑ. බුදුගුණ කියවෙන්නැති තත්පරයක් නෑ. සියලු දෙනා, මිනිස්සු, දෙවියෝ, බ්‍රහ්මයෝ නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස, ඉතිපිසෝ භගවා අරහං සම්මා සම්බුද්ධෝ විජ්ජාචරණ සම්පන්නෝ ආදී බුදුගුණ නමස්කාරය හැමතැනම ලෝකෙ කී දෙනෙක්ගෙ දවසට එක මොහොතෙ ලක්ෂ ගාණක් අයගේ කටින් කියවෙනවා. දැන් අපි ගමු රතන සූත්‍රය සජ්ඣායනා කරන වෙලාවට ලංකාවේ ලෝකෙ ඔක්කෝගෙම එකම මොහොතෙ ලක්ෂ ගාණකගෙ කටින් එකම වෙලාවක පිටවෙනවානෙ. බුදුගුණ කතාවෙන්නැති තත්පරයක් නෑ කියනවා මේ ලෝකෙ. කොහේ හරි බුදුගුණ කියැවෙනවා. මේ ලෝකෙ බුදුරජාණන් වහන්සේට පූජාවල් පැවැත්වෙනවා, හැම මොහොතකම. එක්කො ගිලන් පස, එක්කො දානෙ, එක්කො මලක්, එක්කො පැනක්, එක්කො සුවඳ දුමක්, එක්කො සාදුකාරයක්, එක්කො ඇඟිලි එකතුකිරලා කරන වන්දනාවක්. ලෝකෙ කොහෙහරි හැම මොහොතකම සිද්ධ වෙනවා. ඊටපස්සෙ පින්වතුනි කවියෝ කවියෙන් බුදුගුණ කියනවා. ගායකයො සින්දුවෙන් බුදුගුණ කියනවා. ලේඛකයො තමන්ගේ කෙටි කතාවෙන් නව කතාවෙන් බුදුගුණ වර්ණනාවෙන් බුදුගුණ කියනවා. ඊටපස්සෙ දේශකයෝ අනේකප්‍රකාරයෙන් බුදුගුණ කියනවා. ඊටපස්සෙ වාදකයෝ බුදුගුණ කිය කියා වාදනය කරනවා. නැට්ටුවෝ බුදු ගුණ කිය කියා නටනවා.

ශාන්ති කර්ම කරන්නෝ බුදු ගුණ කිය කියා සෙත් පතනවා. මේ වගේ ලෝකෙ අනන්ත අප්‍රමාණ බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ කීමනාවක් තියෙනවා. මේන්න මේක ඒකාන්තයෙන් බුදුවරුන්ගේ මහා භාග්‍යයක්. මහා භාග්‍යයක්. අනාගතයටත් ඔය විදියටම සිද්ධ වෙනවා. අනාගතයටද ඔය විදියටම සිද්ධ වෙනවා අනේකප්‍රකාර බුදු ගුණ කියන එක. ඊටපස්සෙ පින්වතුනි බුදුරජාණන් වහන්සේ නිසාම මේ මිහිමඩල කී ගමනක් සලිත වෙලා තියෙනවාද කියලා බලන්න. වෙස්සන්තර ජාතකයේදීම අට වතාවක් මහපොළොවෙ කම්පා වුනා. ඊළඟට බුදුරජාණන් වහන්සේ මව් කුසේ බිහි වෙනකොට, මව් කුසේ පිළිසිඳගන්නකොට පොළොව කම්පා වුනා. ඊළඟට බුදුරජාණන් වහන්සේ මව් කුසින් බිහිවෙනකොට මහපොළොව කම්පා වුනා. බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුදු වෙනකොට පොළොව කම්පා වුනා. ප්‍රථම ධර්ම දේශනාව කරනකොට පොළොව කම්පා වුනා. බ්‍රහ්මජාල සූත්‍රය දේශනාව කරනකොට පොළොව කම්පා වුනා. සනිධාන දේශනාව කරනකොට පොළොව කම්පා වුනා. ආයුසංස්කාරය දේශනා කරනකොට පොළොව කම්පා වුනා. බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පානකොට මහපොළොව කම්පා වුනා. බුදුරජාණන් වහන්සේ නිසාම මිහිමඩල කොච්චර සලිත වුනාද. ඒ නිසා මේ මිහිමඩල දන්නවා බුදු කෙනෙක් කියන්නේ කවුද කියලා. බුදුරජාණන් වහන්සේ භගවා වන සේක. ඉතින් ඒ නිසා ඒ වගේ ආශ්චර්යයකින් වාසය කරන බුදුරජාණන් වහන්සේගේ සම්බුදු සිරුර බ්‍රහ්මයන් අතර ඉඳිද්දී බබළනවා. දෙවියන් අතර ඉඳිද්දිනුත් බබළනවා. රජවරුන් අතර සිටිද්දිනුත් බබළනවා. සුන්දර මිනිස්සුන් අතර ඉඳිද්දිනුත් බුදුරජාණන් වහන්සේම බබළනවා. දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් සුසැදි, අසූ අනුව්‍යඤ්ජනයන්ගෙන් සෝබමාන වූ බුදු සිරුරක් බුදුරජාණන් වහන්සේට තිබුනේ. බුදුරජාණන් වහන්සේගේ සිරිපා කමල මිහිමඩලේ  සම ලෙස පිහිටියා. දහසක් අර ඇති චක්‍ර ලක්ෂණය සිරිපාවේ පිහිටියා. දික් විලුඹෙන්, දික් ඇඟිලිවලින් යුක්ත වුනා. උස් වූ ගොප් ඇටයකින් යුක්ත වුනා. රන්වන් රන් සම තිබුනා. ඒ රන්වන් රන් සමේ දූවිලි රඳින් නෑ. ඊළඟට මුවෙක්ගේ වගේ කෙණ්ඩා තිබුනා. නැමෙන්නැතිව දණහිස අල්ලන්න පුලුවන් වුනා. වටකුරු ශරීරයක් තිබ්බා. පිටකොන්දේ වළක්, කාණුවක් නැතිව හොඳට මස් පිරිලා තිබ්බා. මේ අත්වල උඩ පැත්තේත් පා වල උඩ පැත්තේත් මේ උරහිසේත් පිරුණු මස් තිබුනා සත් තැනක. දිග ඇඟිලි තිබුනා. බුදුරජාණන් වහන්සේගේ නිල්වන් නිල් කෙස් කළඹ තිබුනා. කේශ ධාතූන් වහන්සේලා. නිල්වන් නෙත් සඟල තිබුනා. ඊළඟට බුදුරජාණන් වහන්සේට දේදුණු වගේ

ඇහිබැමි තිබුනා. ඒ අතර සුදුවන් වූ ඌර්ණ රෝම ධාතුව තිබුනා. ඒ අතර බුදුරජාණන් වහන්සේගේ රෝස පාට තොල් සඟල අතරින්, සුදෝසුදු දන්ත ධාතූන් වහන්සේලා හතළිස් නමක් වැඩ සිටියා. උඩු ඇන්දේ දත් විස්සයි, යටි ඇන්දේ දත් විස්සයි. ඒ දත් අතර හිඩැස් තිබ්බේ නෑ. අවිවර දන්තෝ. ඒ දත් හතලිහම එක වාගේ සමානයි, සම දන්තෝ. සුදුම සුදු පාටයි, සුසුක්කදාඨෝ. ඉතින් බුදුරජාණන් වහන්සේගේ දිව ඕන වෙලාවක එළියට අරන් දිග අරින්න පුලුවන්. නලල දක්වාම දිව දික් කරන්න පුලුවන්, කන් දෙක දක්වා. පහූත ජිව්හෝ. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ ශරීරයේ තඹවන් නියපොතු තිබුනා, රෝස වන් දෑත් තිබුනා. බුදුරජාණන් වහන්සේග් රන්වන් සමේ, ඊළඟට බුදුරජාණන් වහන්සේ කතා කරනකොට පුරවිකභාණී, පුරවි පක්ෂියෙකුගේ වගේ බ්‍රහ්මස්වරය තිබුනා. මේ විදියට පිරිපුන් නළල් සඟලක් තිබුනා. මේ විදියට පින්වතුනි දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන් තිබුනා. ඇතෙක් වගේ, ගච්ඡති නීල පතේවිය ඡන්දෝ තාර ගණා පරිවේතිචරූපෝ සාවක මජ්ජ, ශ්‍රාවකයන් වහන්සේලා අතර බුදුරජාණන් වහන්සේ බැබලුනේ ඒ රාහුල මාතාවෝ කියනවා සඳ පිරිවරාගත්ත තරු පන්තියක් වගේ කියලා. ඊළඟට මත්ත ගජින්ද විලාසිතගාමී, මත්වූ හස්තිරාජයෙක් මහා දැවැන්තව යනවා වගේ තමයි බුදුරජාණන් වහන්සේගේ ගමන තේජාන්විතයි, සිංහයෙක්ගේ වගේ ගමන තිබුනා. ඉතින් බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුණ කඳ ඒ යසෝදරා උත්තමාවිය රාහුල කුමාරයාට පෙන්නා පෙන්නා ගුණ කිව්වා. මේ වගේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්නේ අසූ අනුව්‍යඤ්ජනයන්ගෙන් සෝබමාන වූ වරක් දුටුවාට මදි නැවත නැවත දකින්න ඕනෑ කියලා මිනිස්සුන් පොර කකා පොදි බැඳගෙන බුදුරජාණන් වහන්සේ දෙස බලාගෙන ඉන්නවා. වරක් බැලූ නේත්‍රයට නිවන් දකිනා මොහොත දක්වා ඇස් ලෙඩක් හැදෙන් නෑ, එච්චර සොඳුරු ආනුභාවයක් තිබ්බා. උන්වහන්සේ සොයාගෙන පැමිණෙන කෙනෙකුට උන්වහන්සේ දිශාවට තබන පියවර ආපහු සතර අපායට වැටෙන්නැති මට්ටමට පත් කලා. මේ මොනවාද, කුමක් නිසාද, කුමක්ද මේ අසිරිය? මේ තමයි බුදුරජාණන් වහන්සේගේ භාග්‍යවන්ත බව. භගවා වන සේක. භගවා වන සේක. ඉතින් මෙසේ අනන්ත වූ සම්බුදු ගුණයන්ගෙන් සෝබමානව වැඩ සිටියා වූ අපගේ භාග්‍යවතුන් වහන්සේ අනන්ත දෙවියන්ටත්, අනන්ත බ්‍රහ්මයන්ටත්, අනන්ත මිනිස්සුන්ටත් බොහෝ යහපත පිණිස කටයුතු කලා. සක්දෙවිඳු කියනවා බොහෝ දෙනාට යහපත පිණිස කටයුතු කරන මේ වාගේ උත්තම සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් අතීතයේ හෝ වර්තමානයේ හෝ

දකින්න ලැබෙන් නෑ. ඉතින් බුදුරජාණන් වහන්සේගේ කීර්ති ඝෝෂාව ගංවතුරක් වගේ ගලාගෙන ගියා. බුදුරජාණන් වහන්සේගේ ධර්මය යම්කිසි කෙනෙකුට ලැබුනොත් පින්වතුනි බොරවූ වතුර ටිකකට උදකප්‍රාසාදනීය මාණික්‍යය දැම්මොත්, උදකප්‍රසාද මාණික්‍යය, බොරවූ වතුර ටික එහේම්මම සන්සිඳිලා සන්සිඳිලා යනවා. ඒ වගේ බුදුරජාණන් වහන්සේගේ ඒ උදක ප්‍රසාදනී සක්විති රජ්ජුරුවන්ගේ උදක ප්‍රසාදනී මාණික්‍යය ගෑවූ ගෑවූ තැන ජලය ප්‍රසන්න වෙන්නේ යම් සේ ද, බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගෑවුන ගෑවුන හදවතේ කෙලෙස් ගිනි නිවෙනවා. බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගෑවුන ගෑවුන හදවතේ කෙලෙස් ගිනි නිවෙනවා. ඒ කාරණයෙනුත් බුදුරජාණන් වහන්සේ ඒකාන්තයෙන්ම භගවා වන සේක. මහා පින්වන්තයි, මහා භාග්‍යවන්තයි, රත්තරනින් රූ හදනවා. ඊළඟට රිදියෙන් හදනවා. මැණික් වලින් හදනවා. දෙනෝ දහසක් දෙනා උන්වහන්සේ නමින් තියෙන ප්‍රතිමාවටත් වඳිනවා. උන්වහන්සේ වැඩ හිටපු බෝධීන් වහන්සේටත් වඳිනවා. උන්වහන්සේ වැඩ හිටපු බෝධියේ පත්‍ර අයින් කරපු කෙනාටත් අමා මහ නිවන සැලසෙනවා. කොච්චර භාග්‍යයවන්ත උත්තමයෙක්ද මේ ලෝකෙට පහළ වුනේ පින්වත්නි. භගවා. ඒ නිසා මේ බුදුරජාණන් වහන්සේ අනේකප්‍රකාර වූ සම්බුදු ගුණයෙන් යුතුව මේ ලොව්තුරා සම්බුද්ධ රාජ්‍යය බිහි කලා. ඒක සීලය නැමැති ප්‍රාකාරයකින් යුක්තයි, සිහිය නැමැති දොරටුවකින් යුක්තයි. ශ්‍රද්ධාව නැමැති ඒසිකා ස්ථම්භයක් ඒ නගරයේ තියෙනවා. ඒ නගරයේ සුවඳ මල් වෙළඳසැල් තියෙනවා, පළතුරු වෙළෙඳසැල් තියෙනවා. නොයෙක් ආපනශාලාවල් තියෙනවා. ඒ නගරයේ වීදි තියෙනවා, ධර්මය නැමැති. සතර සතිපට්ඨානය නැමැති මහා වීදි තියෙනවා. ඉතින් මේ නගරයේ සද්ධර්මරාජයාණන් වහන්සේ තමයි බුදුරජාණන් වහන්සේ. ධර්ම සේනාධිපතින් වහන්සේ තමයි එහි සෙන්පතියා. පුරෝහිතයා වන්නේ මුගලන් මහරහතන් වහන්සේ. ඊළඟට මේ සම්පූර්ණ නගරයේ ගබඩාව භාරව ඉන්නේ ආනන්දයන් වහන්සේ, ධර්ම භාණ්ඩාගාරික. ඊටපස්සේ මේ නගරයේ සුවඳ මල් වගේ තමයි සීලය. තමන්ගේ තියෙන සසරේ පිනෙන් තමන්ට පුරුදු කරන්න පුලුවන් සීලය ගන්න ඕන. පඤ්ච සීලය, ආජීවඅට්ඨමක සීලය, දස සීලය, සාමණේර සීලය, උපසම්පදා සීලය. ඊළඟට එක එක භාවනා අරමුණු තමන් අරන් පුරුදු කරගන්න ඕන. තමන් සංසාරෙ කරගත්තු පිනත් එක්කයි ඒවා යෙදෙන්නෙ. මේ ආදී වශයෙන් බුදුරජාණන් වහන්සේගේ සද්ධර්ම නගරය තියෙනවා. රෑ එළිවෙනකල් සක්මනින් භාවනා කරන, සක්මන් කරන නගරාරක්ෂකයො ඉන්නවා. මුළු

නගරය ගැනම වැටහීම තියෙන දිවැස්ලාභීන් අතර අනුරුද්ධ මහරහතන් වහන්සේ වගේ උත්තමයො වැඩ සිටිනවා. ඊළඟට මේ නගරයේ විනිශ්චයකාර්යයේ යෙදෙන්නේ මේ ධර්ම විනය ගැන සියලු ගැටලු විසඳන්නේ ධර්ම විනිශ්චයකාර වූ මහා කාශ්‍යප මහරහතන් වහන්සේ. අගවිනිසුරු කියලා කියනවා. ඉතින් මේ විදියට බුදුරජාණන් වහන්සේගේ සද්ධර්ම නගරය, රූපදර්ශී වූ නගරාරක්ෂක තමයි දිවැස්ලාභීන් අතර අග්‍ර අනුරුද්ධ මහරහතන් වහන්සේ. මේ විදියට බුදුරජාණන් වහන්සේ උපදවන ලද ශ්‍රී සද්ධර්ම නගරය අද අපිට ඒ ඇස් වලින් බලන්න බෑ, ධර්මයෙන් දකින්න තියෙන්නෙ. ඉතින් නාගසේන මහරහතන් වහන්සේ විස්තර කරනවා, මැනැවින් බෙදා ඇති ඉතා මනහර නගරයක් දැක සිතාගන්නට හැකි වෙයි එබඳු නුවරක් ඉදිකල මහා නුවණැති ශිල්පියෙක් මේ කටයුත්ත කළ වග. මේ සද්ධර්ම නගරය නිර්මාණය කලේ නම් සුලු කෙනෙක් නෙවෙයි කියලා හිතාගන්න වෙයි කියලා කියනවා. එලෙසින් තිලෝනා අපමණ දහම් පුරවර දැගත් විටදි මැනැවින් සිතා ගන්න හැකිවෙයි ඒ උතුම් භගවතාණන් මේ කටයුත්ත කළ වග. මේක කලේ නම්, මේ සද්ධර්ම නගරය බිහිකරපු කෙනාට කියන්න තියෙන නම තමයි භගවා. මහා සමුදුරෙහි රළපෙළ නැගෙන හැටි දැකගත් විට, ඒ රළ තුලින් කෙනෙකුට සිතාගන්න හැකිවෙයි මහා සමුදුර යනු මහා සුවිසල් ජල කඳක් වග. රළ නැගෙන විදියන්ම හිතාගන්න කිව්වා මහා සාගරය නම් ගාම්භීරයි කියලා. එලෙසින් සෝක දුරු කල සැම තන්හි අපරාජිත සියලු ආසා නැති කල රහත් බව මැනැවින් පසක් කල ඉපදෙන මැරෙන සසරින් මිදී ගිය බුදුරජ ගැන දෙවියන් සහිත ශ්‍රාවක රළ පෙල නැගෙන හැටි දැක ලොවෙහි විසිරෙන දහම් රළ දැක සිතන්නට යුතුමය සැබැවින්ම අප බුදුරජ සකළ ලොව අග පත් වග. මෙච්චර බුදුගුණ කියන එකෙන් දෙවියන් මිනිසුන් බඹුන් අතර මෙච්චර කීර්ති ඝෝෂාවක් නැගෙන එකෙන්ම හිතාගන්න කියනවා බුදුරජාණන් වහන්සේ තරම් කෙනෙක් නම් ලෝකෙ නෑ කියලා භගවා වන සේක. ලොවේ හැම කඳු මැඩගෙන උස්ව නැගෙන ගිරි දැක හිතාගන්න හැකිවෙයි උස්ව නැගී සිටි හැමට ඉහළින් දිස්ව පෙනෙනා මැනැවින් හිමගිරි රජා එය වග. සියලුම කඳු අතරින් මිහිදුම වැටිලා හිම වැටිලා තියෙන හිමාල පර්වතය දැකලා හිතාගන්න කියනවා අනිත් පර්වත වලට වැඩිය නම් මේ තමයි මහා පර්වත රාජයා කියලා. එලෙසින් දැක දහම් ගිරි නිකෙලෙස් සිසිල් හිම පිරි අටලෝ දහමින් නොසෙලෙන අමා නිවනින් සුපිහිටි ලොවේ මුදුනට සපැමිණි භගවතුන්ගේ ගුණ දැක මෙච්චර, දැන් අපි දහම් වැඩසටහන් මේ වෙනකොට විසිනවයක්

වගේ. අද විසිනවය දහම් වැඩසටහන. තවම බුදු ගුණ කියන්නෙ. තව එහෙම්මමයි. තව දස බල ඥාණ කිව්වේ නෑ. සිව් විශාරද ඥාණ කිව්වේ නෑ. ෂඩ් අසාධාරණ ඥාණ ගැන කිව්වෙ නෑ. අනාවරණ ඥාණ ගැන කිව්වෙ නෑ. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ වචනයේ තියෙන ගුණ කඳ කිව්වෙ නෑ. සක්දෙවිඳු කියපු බුදුගුණ අට කිව්වෙ නෑ. තව කොතන ගියාටද මේ. මෙච්චර ගුණ කඳක් නැගෙනකොට හිතන්න කියනවා දැක මේ දහම් ගිර සිතාගත යුතුමය එබඳු ඒ මහා වීරයාණෝ තුන් ලෝවේ මුදුනට වැඩි මේ භවත් උතුමාණෝ බුදුරජාණෝ වෙත්මය. ඒ බුදුරජාණෝ, මේ තමයි භාග්‍යවතුන් වහන්සේ කියලා දැනගන්න කියනවා. මහා ඇත්රජුගේ පියවර සටහනක් මැනැවින් දැක නුවණැත්තෙකුට ඒ ගැන සිතාගන්න හැකිවෙයි මේ පියවරට අනුව මොහු මහා බල ඇති ඇත්රජෙක් වග. කැලේ ඇවිදිනකොට විශාල අඩි සළකුණක් දැක්කොත් හිතාගන්න කියනවා, නුවණැති කෙනා හිතනවා කියනවා මහා ඇතෙක් මේ කැලේ ඉන්නවා කියලා. එලෙසින් බුද්ධ නම් වූ මහා ඇත් රජුගේ දහම් පියවර දැක්ක විට නුවණැත්තෙක් සිතාගන්න හැකිවෙයි මේ පියවරට අනුව මොහු මහා උතුමෙක් වන වග. මේ කෙලෙස් දුරු කරන බුදුරජාණන් වහන්සේගේ ධර්මය ඉගෙන ගන්නකොටම හිතන්න කියනවා මේ ධර්මය දේශනා කරන්න ඇත්තේ නම් සුලුපටු කෙනෙක් නම් නෙවෙයි කියලා. ඇසූ විට සිංහ නාදය බියට පත්වූ සතුන් තැති ගෙන කම්පිත සතුන්ට හිතාගන්න හැකිවෙයි ලාමක වන සත්තු මේ බියපත්ව සිටිතී නොවැ, දහම් රජුගේ සිහනාදය රාව දුන් විට හැම දෙස බියව කැළැඹුණු සිත් ඇති තීර්ථකයන් දුටු විට සිතාගන්න හැකිවෙයි දම්රජුන් ගර්ජනා කළ වග. බුදුරජාණන් වහන්සේ බ්‍රහ්ම විමාන වල ධර්මය දේශනා කරනකොට අනිත්‍යයි, සංකතයි, පටිච්ච සමුප්පන්නයි කියලා බ්‍රහ්මයෝ කලන්තෙ දාලා වැටෙනවා කියනවා. බ්‍රහ්මයෝ හීනෙකින්වත් හිතලා නෑ කියනවා අනිත්‍යයි කියලා. මේ ඔක්කොම අනිත්‍යයි දාලා යන්න සිද්ධ වෙනවා කියනකොට කලන්තෙ දාලා වැටෙනවා කියනවා බ්‍රහ්මයෝ පවා. බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරනකොට තීර්ථකයෝ හිස් ලූ ලූ අත දුවනවා. ඔය අජිතකේසකම්බලී, පකුධකච්චායන, නිගණ්ඨනාථපුත්ත, සංජයබෙල්ලට්ඨීපුත්ත ආදී ෂඩ්ශාස්තෘවරු ජීවිතේට බුදුරජාණන් වහන්සේගේ රැස් මාලාවවත් දැකලා නෑ. සිරිපා වත් දැකලා නෑ, සිවුරවත් දැකලා නෑ. එන් නෑ එකෙක් ළඟට. එක එක හෙන්චයියො තමයි එවන්නෙ ඒ කාලෙ. කිසි කෙනෙක් ළඟට එන් නෑ බයයි. එතකොට මේ තීර්ථකයෝ තැතිගෙන ඉන්නකොට හිතන්න කියනවා බුදුරජාණන් වහන්සේ ගර්ජනා කරලා කියලා. සිංහනාදය

පතුරවලා කියලා. රත්වී තිබුණු නියඟෙන් මහපොළොව සිහිල් වී ගොස් කොළපැහැ දළුපතින් යුතු හැමතැන මහත් දියකඳ දැක සිතාගන්න හැකිවෙයි මහා වැස්සෙන් නිවී ගිය වග. කරකුට්ටං වෙලා තියෙන පරිසරය එකපාරම සීතල වෙලා ලාදලු වෙනකොට හිතාගන්න කියනවා එහෙනම් වැස්සක් වැහැලා. පීඩිතව සිටි ජනයා ඉපිළ ගොස් සන්සිඳී අමා සැපයට පත්වී සිටින අයුරු දැකගත් විට සිතාගන්න හැකිවෙයි දහම් වැස්සෙන් සැනහිලා වග. අර භද්දිය රජ්ජුරුවෝ අහෝ සැපයි, අහෝ සැපයි කියන්නෙ. අපි පවා මේ මොහොතක් හිනාවෙලා ඉන්නකොට හිතාගන්න හැකිවෙයි දහම් වැස්සක් වැහැලා කියලා. ඒ මහරහතන් වහන්සේලා පහළ වෙලා සිටිනකොට එතකොට ශ්‍රාවක ජනයා සතුටින් සිටිනකොට සිතාගන්න හැකිවෙයි දහම් වැස්සක් වැහැලා කියලා. තැඹූ පියවර ගැලෙනා බොහෝ මඩ පිරී හැමතැන තෙතබරිත පොළොව දැක සිතාගන්න හැකිවෙයි මෙදෙසින් මහා ජලකඳක් ගලාගෙන ගොස් ඇති වග. මේ යනකොට පොළොවෙ එරෙනවා, වළවල් හෑරිලා තැන් තැන්වල. එතකොට දැනගන්න ඕන, මහා වැස්සෙන් හෝ ගාලා වතුර පාරක් ගිහිල්ලා. එලෙසින්ම කෙලෙස් දුහුවිලි පිරී තැවරී සිටිය ජනයා දහම් නදියට බැසගෙන කෙලෙස් දූවිලි සෝදා, දහම් නදියෙන් උසුලා දහම් සයුරට මුදා හල විට අමා දහමේ බැසගත් දෙවියන් සහිත මේ ලොව සැපවත් දනන් දුටුවිට සිතාගන්න හැකිවෙයි කෙලෙස් මල සෝදාහල මහා දම්කඳ ගලා ගිය වග. කෝටි ප්‍රකෝටි ගාණක් මහරහතන් වහන්සේලා පහළ වුනා. දෙව් මිනිසුන් අතර මගඵල ලාභීන් බිහි වුනා. අපේ මිහිඳුමහරහතන් වහන්සේ දහම් කඳ හැරෙව්වා ලක්දෙරණට. ලක්දෙරණේද කෝටි සංඛ්‍යාත රහතුන් බිහිවුනා. මේ ලක්දෙරණේ දවසක් තිබ්බා වී වේලාගන්න බැරිතරම් අහස අඳුරු වෙලා ගියා අහසේ රහතුන් වහන්සේලා වැඩලා හෙවනැල්ල වැටෙනවා, ඉර අව්ව පොළොවට වැටෙන් නෑ. මේ ලක්දෙරණේ යම් දවසක් තිබ්බා මාතරින් ඝණ්ටා නාදය ගහනකොට යාපනෙන් ඝණ්ටා නාදය අවසන් වෙන්නේ. එච්චර පන්සල් තිබ්බා. මේ ලංකාවේ යම් දවසක් තිබ්බා, හැම පන්සලකම, හැම දන්හලකම, හැම ආරාමයකම එකම රහතන් වහන්සේ නමක් හරි වැඩ ඉන්න කාලයක් තිබ්බා. මේවා සිතාගන්නකොට හිතාගන්න පුලුවන් මහා දහම් සැඩපහරක් ගලාගෙන ගිය වග. උතුම් මනහර සුවඳ ගෙන නාසයේ සුළඟ වැදුනු විට සුවඳ දැනගත් කෙනෙකුට සිතාගන්න හැකිවෙයි සැබැවින් මේ හමා එන්නේ මියුරු මල් සුවඳක් වග, සුවඳ දැනෙනකොට හිතාගන්න පුලුවන් මල් සුවඳක් එනවා කියලා. එලෙසින් සිල් සුවඳ දෙවියන් සහිත ලොව වෙත මැනැවින් හමා යනවිට

සිතාගන්න හැකිවෙයි අනුත්තර වූ බුදුරජ ලොවට පහළව ඇති වග. මේ වගේ අප්‍රමාණ සිල් සුවඳක්, ගුණ සුවඳක්, කීර්තියක්, යශෝරාවයක්, මහා ස්තූප අහසට නැගෙනකොට ඒ ස්තූප වටකරගෙන ලක්ෂ සංඛ්‍යාත පිරිසක් සාදුනාදයෙන් බුදුරජාණන් වහන්සේට වන්දනා කරනකොට බෝධීන් වහන්සේලා පිරිවරාගෙන වන්දනා කරනකොට අනේක මල් මාලාවෙන් පුෂ්ප පූජාවෙන් ආකාසෙන් මල් වරුසා වස්සව වස්සවා දහම් කදින් බුදුරජාණන් වහන්සේගේ ගුණ කිය කියා වඳිනකොට සිතාගන්න පින්වතුනි අපේ බුදුරජාණන් වහන්සේ භගවා වන බව. භගවා වන සේක. මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ අනේක වචනයෙන්, අනේක හෝරාවෙන් අනේක දවසෙන්, අනේක සතියෙන්, අනේක අවුරුද්දෙන්, නොයෙක් කාලයෙන් බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ කියන්න පුලුවන්. ඒ නිසා මේ භගවා. දැන් පින්වතුනි, අරහං ගුණය හෝරාවක් කිව්වා. සම්මා සම්බුද්ධ ගුණය හෝරාවක් කිව්වා. විජ්ජාචරන සම්පන්න, සුගත ලෝකවිදූ අනුත්තරෝ පුරිසදම්මසාරථී සත්තා දේවමනුස්සානං බුද්ධෝ භගවා, මේ බුදුගුණ නවය හෝරා නවයක් කිව්වා. දැන් ඔබ විනාඩි නවයක භාවනාවක් කරන්න. අපි දැන් හෝරා නවයක් බුදුගුණ කිව්වා නම් ඔබ විනාඩි නවයක් කරන්න. ඔබගේ ජීවිතය සනසා ගන්න. මුවපුරා ඔබගේ සිත ඇතුලෙන් එන සොඳුරු සිනහවෙන් ඔබගේ මුහුණ සුන්දර කරගන්න. ලෝකෙට කලාතුරකින් පහළ වෙන බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ කඳ හිතලා. මං නම් හිතන්නේ මේ ධර්ම දේශනා අහන්නත් පිනක් ඕන. පින නැත්නම් බෑ. අහගෙන හිටියත් බුද්ධානුස්සතියනෙ. ඔබ කවදාහරි සැනසිලා යනවා පින්වත්නි. ඒ නිසා හිතන්න මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ අරහං වන සේක. සක්මන් කර කර යනකොට එනකොට, බස්එකේ කෝච්චියේ ගමනක් යනකොට එනකොට ඉඳගෙන ඉන්නකොට, නින්ද යනකල් නිදාගෙන ඉන්නකොට බුදුරජාණන් වහන්සේ අරහං කියලා හිතන්න. සම්මා සම්බුද්ධයි කියලා හිතන්න. විජ්ජාචරන සම්පන්නයි, සුගතයි, ලෝකවිදූ, අනුත්තරෝ, පුරිසදම්මසාරථී, සත්තා දේවමනුස්සානං, බුද්ධ, භගවා කියලා බුදුගුණ හිතන්න. අද අපි ඉගෙන ගත්තෙ භගවා ගුණය. බුදුරජාණන් වහන්සේ අනන්ත බුදුගුණ දරාගැනීමට භාග්‍යවන්තයි. හිරුසඳු එළිය පරදන ප්‍රඥාලෝකය දරාගන්න තරම් භාග්‍යවන්තයි. කරුණාවෙන් සිසිල් වී ගිය සුන්දර හදමඩලක් දරාගන්න භාග්‍යවන්තයි. තුන් ලෝකයේ අග තැන්පත් සම්බුද්ධ රාජ්‍යය ගොඩනැගූ බුදුරජාණන් වහන්සේ සියලු ගුණයෙන්, සියලු යසසින්, සියලු කීර්තියෙන්, සියලු දෙව් මිනිස් වන්දනාවෙන් පිදුම් ලැබීමට

භාග්‍යවන්තයි. භගවා කියලා සිහි කරන්න. එතකොට පින්වත් පරම පූජනීය ගුරු දේවෝත්තම ලොකුස්වාමීන් වහන්සේගේ බුදුගුණ භාවනාව තියෙනවා අපි හුරු වුනේ ඒකෙන්. ඉස්සෙල්ලා ඒකෙන් හුරුවෙන්න හොඳට. සමහර අයට ඒකෙම හිත සමාධිමත් වෙනවා ඒ භාවනාව තුළ. අනිවාර්යයෙන් ගෙදර විවේකයෙන් ඉන්නකොට කැසට් එකට දාගන්න. කම්පියුටර් එකට ෆෝන් එකට දාගන්න බුදුගුණ භාවනාව. අහගෙන ඉන්න දැන් බුදුගුණ නවය අහපු නිසා ලොකු ස්වාමීන් වහන්සේගේ භාවනාව අහනකොට හොඳට තේරෙන්න ගන්නවා, හිත සන්සිදෙනවා, භාග්‍යවතුන් වහන්සේ ගැන හිත ගොඩාක් පැහැදෙනවා. ඒ නිසා ලොකු ස්වාමීන් වහන්සේගේ භාවනාව අරන් අනිවාර්යයෙන් අහන්න. මේ බුදුගුණ නවය අහපු හැටියෙ දැන් අනිවාර්යයෙන් භාවනාව හොයාගෙන අහන්න. ඊටපස්සෙ භාවනා කරන්න, සක්මන් කරන්න, බුද්ධානුස්සතිය. ඊටපස්සේ මේ ගුණ නිතර අහන්න. මේ අහන හෝරාවත් බුද්ධානුස්සති භාවනාවක් ඒකාන්තයෙන්ම. මේ බණ අහන පැය අනිවාර්යයෙන් බුද්ධානුස්සති භාවනාවක්. බුදුගුණමයි කියන්නෙ. ඒ නිසා ඔබගේ හිත ගොඩාක් මේ ධර්මයෙන් හොඳට ඒ ශ්‍රද්ධාවවේ ඒ බුද්ධානුස්සති අරමුණේ හිත හොඳට තියාගන්න. අපි ඉදිරියට දැන් ඉතුරු දේශනාවල් කරනවානෙ, දැන් පටිච්ච සමුප්පාද ධර්මය, ආයතන, පංචුපාදානස්කන්ධය ගැන හිත නොමග යන්නැතිව ලස්සනට ධර්මය අවබෝධ වෙන්න ගන්නවා. ඇයි හිතේ මල් ආසනයක් හදලානෙ තියෙන්නෙ. ඒ උතුම් ධර්මය ඒ ආසනයේ තැන්පත් වෙනවා. ගොඩාක් අයට වටිනා දේවල් ගත්තට තැන්පත් වෙන් නෑ ඇතුලෙ. භාග්‍යවතුන් වහන්සේට බුද්ධාසනයක් ඇතුලේ හදලා නැති නිසා. ඔබගේ හිතේ බුද්ධ ස්තූපයක් හදාගන්න. ඔබ ඔබගේ හිතේ හදාගන්න බුදුරජාණන් වහන්සේට මහා ස්තූපයක්. ඒ ස්තූපයට වැඳ වැඳ ඉන්න. ලෙඩ ඇඳේ ඉන්නකොට තනියෙන් ඉන්නකොට වැඳ වැඳ ඉන්න හදාගන්න. මැරෙන මොහොතේ බුදුගුණයක් කිය කියා මැරෙන්න හිතක් හදාගන්න. ඉතින් ඒ නිසා දැන් මේ බුදුගුණ නවය අහපු නිසා තව ඉදිරියට බුදුගුණ කඳ කියලා දෙනවා. දැන් හෙමිහිට පුරුදු වෙන්න බුද්ධානුස්සති භාවනාව. දවසට එක වතාවක් හරි දාලා තියන්න. ගෙදර පොඩ්ඩක් ඇහෙන්න දාලා තියන්න. කටයුතු අඩුයි නම් ෆෝන් එකේ, කම්පියුටර් එකේ, රේඩියෝ එකේ, කැසට් එකේ පොඩ්ඩක් දාලා ඇස් දෙක පියාගෙන අහගෙන ඉන්න. නින්ද ගියොත් ඇහැරිලා ආපහු අහන්න. මොනවා කරන්නද. අමාරුවෙන් මේක පුරුදු වෙමු. අමාරුවෙන් පුරුදු වෙමු. ඉතින් කවුරු කවුරු හරි මේකෙන් ගොඩ යන්න. ආයෙ දුක් විඳින සංසාරෙට

එන්න එපා. මැරි මැරී යන සංසාරෙට එන්න එපා. ශෝක වැළපීම් සංතාප තියෙන මේ වාගේ ව්‍යසන වලින් මිනී කඳු ගණන්, ප්‍රාකාර ගණන් මිනී මැරෙන ලක්ෂ ගණන් මැරෙන මේ සංසාරෙට එන්න එපා. ඔබ සැනසෙන්න. ඒ නිසා ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් භගවා නම් වූ සම්බුදු ගුණ බලයෙන් ඔබ සැනසේවා. දිවිහිමියෙන් මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. දිවිහිමියෙන් මම ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. දිවිහිමියෙන් ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. නිවන් දකිනා මොහොත දක්වා මේ උතුම් තිසරණය මාගේ ජීවිතයට එකම පිළිසරණ වේවා. සත්පුරුෂයන්ගේ ඇසුරම වේවා. සත් පුරුෂයන් ළඟ ඉන්න ලැබේවා. සත්පුරුෂයන්ගේ දහම අවබෝධ කරගන්න ලැබේවා. උතුම් සම්මා සම්බුදුරජාණන් වහන්සේ අපි පැහැදුනු අපේ ජීවිතේ පූජා කල මගේ බුදුරජාණන් වහන්සේ යම් දහමක් මට කරුණාවෙන් වදාළා නම් ඒ ධර්මය අවබෝධ කරගන්න අපිට වාසනාව ලැබේවා.

ඉතින් පින්වත්නි අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ කැනඩාවේ ටොරන්ටෝ මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ සැදැහැවත් පිරිසක් විසින්. ඉතින් මේ පින්වතුන් බලාපොරොත්තු වෙන පරිදි උතුම් බුද්ධානුභාවයෙන්, භාග්‍යවතුන් වහන්සේගේ අනන්ත නවඅරහාදී බුදුගුණ වල ආනුභාව බලයෙන්, භගවා නම් වූ අනන්ත බුදුගුණයේ ආනුභාව බලයෙන්, අපි රැස් කරගත්තු පින් වල ආනුභාව බලයෙන් ඒකාන්තයෙන්ම මේ අපේ මව් රටටත් මේ සියලූම රටවල් වලටත් ව්‍යසනයක් වුනු කොරෝනා වසංගතය මේ ලෝකෙන් තුරන් වේවා, තුරන් වේවා, පැතිරී යෑම වළකීවා. රෝගී වූ අය ඉක්මණින් නිදුක් නිරෝගී සුවපත් වේවා. ඒ වගේම මේ සඳහා ඇප කැපවී කටයුතු කරන අපේ ජනාධිපතිතුමා ඇතුලු කාර්ය මණ්ඩලයට, ත්‍රිවිධ හමුදාවට, පොලිසියට, සෞඛ්‍ය සේවා වල නියුතු සියලු දෙනාට, මාධ්‍ය ආයතනවල සියලු දෙනාට මේ පින් අනුමෝදන් වී මනුස්ස වර්ගයා බේරගන්න මේ දරණ වෑයම වෙනුවෙන් උතුම් සම්බුදුගුණ බලයෙන් අපි සෙත් පතනවා ඔබ නිදුක් නිරෝගී වේවා දීර්ඝායුෂ වේවා කියලා ඔබ සියලු දෙනාට මේ ලෝකයට සියලු යහපත සැනසිල්ල රැකවරණය වේවා, බියක් තැතිගැනීමක් නැතිව සැනසිල්ලේ මිනිස්සුන්ට මේ බුදු සසුනේ සැනසීම ලබන්න වාසනාව ලැබේවා. ඒ වගේම සියලු දෙව් දේවතාවුන් වහන්සේලාට මේ පින් අනුමෝදන් වී සියලු දෙවියෝ මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම සියලු දෙව් දේවතාවුන් වහන්සේලා මේ පින් සතුටින් අනුමෝදන් වෙත්වා කියලා

පින් අනුමෝදන් කරනවා. පරම පූජනීය කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ පහළ නොවෙන්න කවම කවදාවත් කවර ආකාරයකින්වත් මේ විදියට බුදුගුණ ටිකක් අහගන්න නම් ලැබෙන්නේ නම් නෑ. අපිට උන්වහන්සේ බුද්ධානුස්සතිය ගැන කියලා දීලා, බුදුගුණ නවය තේරුම් කරලා දීලා, බුද්ධානුස්සති භාවනාව කරන හැටි කියලා දීලා, උන්වහන්සේගේ හඬින් ඒක කියලා දීලා, මේක අහගෙන වත් බුදුගුණ භාවනාව කරන්න කියලා, පුංචි ළමයින්ට වගේ අහන්න කියලා අපිට ඉගැන්නුවා. දැන් මම හෝරා නවයකින් මේ බුදුගුණ නවය කිව්වා. වැඩසටහන් විසිනවයක් මේ වෙනකොට බුදුගුණ කිව්වා. ගෙදරින් එනකොට ඉතිපිසෝ ගාථාව දන්නැතිව හිටියෙ මම. මම ඉතිපිසෝ ගාථාව දන්නවා අර්ථ දන්නෑ. මම බුදුගුණ, ඉතිපිසෝ ගාථාවේ බුදුගුණ නවය බෙදාගන්න දන්නැතිව හිටියෙ මම. මං මේ ධර්මාසනයේ ධර්මදේශකයාණන් නමක් කළේ මගේ ගුරු ස්වාමීන් වහන්සේ. උන්වහන්සේ අපිට ශ්‍රද්ධාව දුන්නා. බුදුගුණ කියලා දුන්නා. දවස් ගණන්, වරු ගණන්, අවුරුදු ගණන් කියන්න පුලුවන් විදියට අපිව හැදුවානෙ. කොච්චර දක්ෂයිද. කොච්චර ආචාරිත්වයක් ද, කොච්චර ගුරු ඇසුරක්ද. ආචාර්ය බවට කොච්චර පූජනීයයිද ඒ උත්තමයන් වහන්සේ. අපේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා, සාදු, සාදූ, සාදූ. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම ස්වාමීන් වහන්සේලාටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූ පුතුන්ටත් සියලු දෙනාටම මේ පින් බලයෙන් ධර්මාවබෝධය වේවා. ඒ වගේම නිපුනි දියණියට සහ සුපුනි දියණියට සියලූම මේ පින් බලයෙන් ආශිර්වාදය වේවා, අනාගත ජීවිතය තුණුරුවන් සරණින් සුරැකේවා. සුජීවත්ව සිටින දෙමව්පියන්ට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැප ලැබේවා. ඒ වගේම මේ පින් බලයෙන් කැනඩාවේ ටොරන්ටෝ මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ ඒ පින්වතුන්ටත්, එහි දායක කාරකාදීන්ටත් පින්සිදු වේවා. අපි කාටත් ගෞතම බුද්ධ ශාසනයේ අසිරිමත් සම්බුදු සරණින් සැනසී නිවනින් සැනසෙන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=2riquYbOx1Y&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=29

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසීමිත ගුණ ගඟ අපිට ශක්ති පමණින් අපි මේ කතා කරන්නෙ. මහා සාගරයක දිය දෝතක් ගත්තා වාගේ. මහා සාගරයක දිය දෝතක් ගත්තා වගේ අපි මුළු ජීවිත කාලයම බුදු ගුණ කිව්වත්, සමහර වෙලාවට මං හිතනවා ඒ උපමාවත් දෝෂ සහිත වෙයි මොකද සාරිපුත්ත මහරහතන් වහන්සේ ඉදිකටු සිදුරකින් ගලාගෙන යන වතුරක් වගේ මහා ගංඟාවකින් ඉදිකටු සිදුරකින් ගලාගෙන යන ජලය ටිකක් වගේ කිව්වා බුදුගුණ කිව්වෙ. එහෙම වුනොත් මෙහෙ තියෙන උපමාව ඊටත් වැඩිය අඩු වෙන්න ඕන. එච්චර බුදුගුණ තියෙනවා. බුදුගුණ නිතර හිතන්න ඕන. මොකද පින්වතුනි දෙව්ලොව උපත පිණිසත්, ශ්‍රද්ධාවන්ත ශ්‍රාවකයාගේ ශාසනික බලයක් විදියට තියෙන සේඛ බල වලත් ශ්‍රද්ධා බලය කියලා එකක් තියෙනවා. ශ්‍රද්ධාව. ඊළඟට පංචඉන්ද්‍රිය, පංචබල වල තියෙනවා ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥා ආදී වශයෙන් ශ්‍රද්ධාව. එතනත් ශ්‍රද්ධාව කියන්නේ බුදුරජාණන් වහන්සේ කෙරෙහි, භාග්‍යවතුන් වහන්සේගේ ධර්මය කෙරෙහි, අවබෝධය කෙරෙහි තියෙන පැහැදීම. ඊළඟට මේ ශ්‍රද්ධාව පරිපූර්ණ වෙනවා කියලා තියෙන්නේ ඒ තුල හත්ථිපදෝපම සූත්‍රයට අනුව රහතන් වහන්සේලාට තමයි යම් විදියකට භාග්‍යවතුන් වහන්සේගේ අවබෝධය සත්‍යයක් කියලා පරිපූර්ණ වශයෙන්ම අවබෝධයත් එක්ක සිද්ධ වෙන්නෙ. එතකොට ඉන්ද්‍රිය ධර්මයන් පරිපූර්ණ වෙන්නෙ අර්හත්වයත් එක්ක. එතකොට ඊළඟට බුදුරජාණන් වහන්සේ කිව්වා භාවිතා කළ යුතු ධර්ම බුදුරජාණන් වහන්සේ විසින් වදාළා. ඉන් එකක් තමයි අනිවාර්යයෙන්ම බුද්ධානුස්සතිය

භාවිතා කරන්න ඕන. ඉතින් මේ කරුණු කාරණා දිහා බලනකොට කොයිතරම් වටිනවාද තථාගත බුදුරජාණන් වහන්සේගේ ඒ ධර්මය අපිට ඉගෙන ගන්න ලැබෙන අවස්ථාව. ඒ වගේම තමයි සෝතාපන්න කෙනෙකුට ඒ සෝතාපන්න වීමත් එක්ක පිහිටනවා බුදුරජාණන් වහන්සේ ගැන අවිච්ඡප්‍රසාදය. ධර්මය ගැන අවිච්ඡප්‍රසාදය. සංඝරත්නය ගැන අවිච්ඡප්‍රසාදය. එතකොට ඒ අවිච්ඡප්‍රසාදය පිහිටන්නේත් බුදුරජාණන් වහන්නසේගේ බුදුගුණ ගැන. එතකොට සම්පූර්ණයෙන් ඔබ, දැන් අපි මේවා ඉගෙන ගෙන අපිට ඉගෙන ගන්න පුලුවන් වුනොත් සෝතාපත්ති අංග, නැත්නම් සෝතාපත්ති සංයුත්තය, සෝතාපන්න වීම ගැන තියෙන ධර්ම දේශනා, ඒ හැම එකකම අනිවාර්යයෙන් කතා කරන්න වෙනවා බුදුරජාණන් වහන්සේ ගැන තියෙන පැහැදීම ගැන. මොකද ඒ බුදුරජාණන් වහන්සේ ගැන තියෙන පැහැදීම තමයි සෝතාපන්න වෙන කෙනෙකුට ස්ථිරවම පිහිටන්නෙ. ඒ නිසා මේ බුදුගුණ ඉගෙන ගන්න එක සුලු දෙයක් කියලා හිතන්න එපා. තමන්ට ලැබිච්ච ලාභය අවතක්සේරු කරගන්න එපා. විශාල භාග්‍යයක් මේ බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ කඳ අපිට ඉගෙන ගන්න ලැබෙන වාසනාව. ඉතින් මීට කලින් අපි බුදුරජාණන් වහන්සේගේ නව අරහාදී බුදුගුණ අපි කතා කලා. එතකොට මං කිව්වා ලොකු ස්වාමීන් වහන්සේගේ බුද්ධානුස්සති භාවනාව නිතර අහන්න, මාසයක් විතර එක දිගට අහන්න. තමන්ට කටපාඩම් නැතත් අහන්න. එතකොට බුදුරජාණන් වහන්සේගේ මේ බුදුගුණ නවය ඉගෙන ගෙන තියෙන නිසා ඒ භාවනාව නිතර අහනකොට හිතට පුරුදු වෙනවා. ඕක හිතට පුරුදු වුනාට පස්සෙ  බස් එකේ යද්දිනුත් නිකම්ම හිතට එනවා. ඒක හරිම ප්‍රසාදජනක භාවනාවක්. ඒ බුද්ධානුස්සති භාවනාව. එතකොට ඒ නිසා අනිවාර්යයෙන් පුරුදු වෙන්න බුද්ධානුස්සති භාවනාව කරන්න. ඊටපස්සෙ ඒක හිතට හුරු වුනාට පස්සෙ තමන් තනියෙන් ඒ භාවනාව කරන්න පුලුවන් වුනොත් ලොකු දෙයක්. එතකොට ඒ භාවනාව කරන, බුදුගුණ නිතර හිතන කෙනාට බුදුගුණ ගැන ධර්ම දේශනාවක් අහන්න ලැබුනොත් එහෙම ඒ ධර්ම දේශනාව එයාගේ හිත ගොඩාක් සිසිල් කරවනවා. ඒ දේශනාව අහද්දි එතනින් නැගිටින්න බෑ. මොකද එතන එයාගෙ හිත ඒකෙ ගොඩාක් පිහිටනවා. හොඳට හිත සන්සිඳිලා යනවා. මොකද තමන් ශාස්තෲන් වහන්සේ කෙරෙහි පැහැදිලා ඉන්න නිසා. ඉතින් ඒ නිසා ඒ බුදුගුණ සිහිකිරීම පිණිසත්, බුදුරජාණන් වහන්සේට පැහැදීම පිණිසත්, දිවිහිමියෙන් සරණ යෑම පිණිසත් මේ කාරණා උපකාරී වෙනවා. අදත් අපි ඉගෙන ගනිමු බුදුරජාණන් වහන්සේගේ ඒ උතුම් ගුණ කඳ. ඉතින් සිහිපත්

කරන්න ඕන, අද මේ ධර්ම දේශනාව පටිගත කරන්න දායකත්වය දරන්නේ උතුම් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා, කොරියාවේ රැකියාවේ නියුතු පින්වත් ජී.එන්. අමිත් ප්‍රසන්න සුමනදාස මහත්මයා සහ ඒ වගේම ජී.එන්. දමිත් ප්‍රසන්න සුමනදාස මහත්මයා විසින්. අමිත් ප්‍රසන්න සුමනදාස මහත්මයාත් දමිත් ප්‍රසන්න සුමනදාස මහත්මයාත් තමයි මියගිය ඥාතීන්ටත්, සුජීවත්ව සිටින සියලු දෙනාට ආශිර්වාද පිණිසත් මේ උතුම් ධර්ම දානයේ දායකත්වය ලබාගන්නෙ. ඉතින් ඔබට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා, ඔබටද භාග්‍යය ලැබෙනවා මේ ධර්ම දානය තුළින් ලෝකය පුරාවටම බුදුරජාණන් වහන්සේගේ දසබල ඥාණ ගැන අහන්න සළස්වන එක. ඇත්තටම මේ මහමෙව්නාවෙන් අපි මේ ධර්මය ඉගෙන ගන්නට කලින් අපිත් ඇත්තටම දහම් පාසැල් ගියා, අපි විභාග ලිව්වා, අපි ස්කෝලේ ගියා, අපිත් විභාග ලිව්වා. කවදාවත් මේ දසබල ඥාණ කියන වචනය අහලා තිබ්බා, ඒ වුනාට එකින් එක දස බල ඥාණ අපි ඉගෙන ගෙන තිබ්බෙ නෑ. එතකොට ශාස්තෘන් වහන්සේගේ මෙවැනි වූ අසිරියක් ඉගෙන ගන්නැතිව කොහොමද අපි හිතේ පැහැදීම ඉගෙන ගන්නෙ. ඒ නිසා මේක විභාගයකට නෙවෙයි, තමන්ගේ සසර දුකින් නිදහස් වීම පිණිසත්, තමන්ගේ ජීවිතය සුවපත් වීම පිණිසත් මේ ධර්මය ඉගෙන ගන්න. ඔබගේ වෙනත් ඉගෙන ගැනීම් වලට වැඩිය ලොකු ප්‍රමුඛත්වයක් දෙන්න ධර්මය ඉගෙන ගන්න එකට. පින්වතුනි මේ සියලු සංස්කාර ධර්ම අනිත්‍යයිනෙ. එතකොට දස බල ඥාණ ගැන ඉගෙන ගන්නැතිව කොහොමද අපේ පැහැදීම තව තවත් අපි දියුණු කරගන්නෙ. සාමාන්‍යයෙන් බුදුගුණ වල සම්මා සම්බුද්ධ ගුණය, විජ්ජාචරණ සම්පන්න ගුණය ඔය ආදී උතුම් ගුණ සිහි කරනකොට ඒවාට දස බල ඥාණ, විශාරද ඥාණ මේ සියලුම ඥාණ අයිතියි. අපි ඉගෙන ගන්න මෙතනින් පස්සෙ ඉගෙන ගන්න සියලුම ගුණ සමුදාය ඒ නව අරහාදී බුදුගුණ වලට අයිතියි. පින්වතුනි ඇයි මේ නවයක් බුදුගුණ? නවයක් බුදුගුණ තියෙන්නෙ පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ බුද්ධ විෂය අචින්ත්‍යයි. බුදුවරුන්ගේ බුද්ධ විෂය අචින්ත්‍යයි. බුදුවරු ගැන හිතලා හිතලා ඉවරයක් කරන්න බෑ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ඒ ශ්‍රාවකයාට සියලු යහපත පිණිසත්, හිත සන්සිඳීම පිණිසත් නිවනට උපකාරී වීම පිණිසත්, බුදුරජාණන් වහන්සේම ඒ වර්ගීකරණයක් කලා, භාග්‍යවතුන් වහන්සේගේ ගුණ සිහිමේ ක්‍රම. ඒ එකක් තමයි බුදුරජාණන් වහන්සේගේ නව අරහාදී බුදු ගුණ. එතකොට අපි ඉගෙන ගන්නවා දසබල ඥාණ. බුදුරජාණන් වහන්සේ සාරිපුත්ත මහරහතන් වහන්සේට වදාළා, දසකෝ පතිමානි සාරිපුත්ත තථාගතස්ස

තථාගත බලානේ, සාරිපුත්ත තථාගතයන් වහන්සේට තථාගත බල දහයක් තියෙනවා. යේහි බලේහි සමන්නාගතෝ තථාගතානං ආසුභන්ඨානං පටිජානාති පරිස්සාසු සිහනාදං නාදති බ්‍රහ්මචක්කං පවත්තති, සාරිපුත්ත ඒ දසබල ඥාණ තුළට පැමිණිලා තමයි බුදුරජාණන් වහන්සේ ආසභන්ඨානං පටිජානාති, බිය නැතිව ඒ උතුම් ධර්මය දේශනා කරන්නෙ. ඊළඟට පරිස්සාසු සිහනාදං නදති, පිරිස් මැද බුදුරජාණන් වහන්සේ ඇසුරු කරන අට පිරිස් ඉන්නවානෙ. රාජපිරිස්, තාවතිංස පිරිස්, මාර පිරිස්, බ්‍රහ්ම පිරිස්, ඒ සියලුම පිරිස් අතර බුදුරජාණන් වහන්සේ සිංහනාද කරනවා. බ්‍රහ්මචක්කං පවත්තේති, උතුම් වූ ධර්මචක්‍රය ප්‍රවර්තනය කරනවා, ඒ බුදුරජාණන් වහන්සේ කතා කරන සෑම වචනයකට උන්වහන්සේගේ දසබල ඥාණ පිහිටලා තියෙනවා. ඒ ඥාණ තුළ ඉඳලා තමයි ධර්මය දේශනා කරන්නෙ. ඒකයි ඒ බුද්ධ වචනය, එක වචනයක එක අකුරක් එහෙට මෙහෙට කරන්න විදියක් නෑ පින්වත්නි. ඒ ශ්‍රාවකයාට එහෙම අවශ්‍යතාවයකුත් නෑ. ශ්‍රාවකයාට තියෙන්නෙ ධර්මය අදහාගැනීම. හේතුව මේ දසබල ඥාණ, බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරන්නේ දසබල ඥාණ තුළ පිහිටලා. කුමක්ද ඒ ඥාණ? පළවෙනි ඥාණය තමයි ඨානාඨාන ඥාණය කියලා කියන්නෙ. ඒ කියන්නේ බුදුරජාණන් වහන්සේ වදාළා, පුනචපරං සාරිපුත්ත තථාගතෝ ඨානංච ඨානතෝ අට්ඨානංච අට්ඨානතෝ යථාභූතං පජානාති. සිදුවිය හැකි දේ සිදුවිය හැකි දේ වශයෙනුත්, සිදුවිය නොහැකි දේ සිදුවිය නොහැකි දේ වශයෙනුත් බුදුරජාණන් වහන්සේ දන්නවා. මේක තමයි බුදුරජාණන් වහන්සේගේ පළවෙනි ඥාණ බලය. එතකොට පින්වතුනි, ඒ අවබෝධය බුදුරජාණන් වහන්සේගේ ඒ ඥාණය සෑම අවවාදයකම පිහිටලා තියෙනවා. සිදුවිය හැකි දේ නොහැකි දේ. වෙන්න පුලුවන්ද, බැරිද. මේක කරන්න පුලුවන්ද බැරිද. මේකෙන් මේ දේ සිද්ධ වෙනවද, නැද්ද. අනිවාර්යයෙන් දන්නවා ඒක ඥාණයක්. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ ඥාණය තුළ පිහිටලා දේශනා කරපු විශේෂ කාරණා ටිකක් තියෙනවා. ඒ කියන්නෙ ඥාණය ප්‍රකට වෙන විදියට. මොකක්ද ඒ දේශනා කරපු කාරණා? බුදුරජාණන් වහන්සේ වදාළා සෝතාපන්න වූ කෙනා මේ සංස්කාරයෝ නිත්‍ය වශයෙන් ගන්නවා කියන එක සිද්ධ විය නොහැකියි. මේ සංස්කාරයෝ සැපයි කියලා ගන්නවා කියන එක සිදුවිය නොහැකියි. මේ සංස්කාරයෝ ආත්ම වශයෙන් ගන්නවා කියන එක සිදුවිය නොහැකියි. ඊළඟට සෝතාපන්න වෙච්ච කෙනාගේ අතින් අම්මා මිය යනවා කියන එක, මව් ඝාතනය වෙනවා කියන එක, මව්ට අඩන්තේට්ටම් කරනවා කියන එක සෝතාපන්න කෙනෙක්ගේ

අතින් සිදුවිය නොහැකියි. සෝතාපන්න වෙච්ච කෙනෙක්ගේ අතින් පියා ඝාතනය වෙනවා, පියාට අඩන්තේට්ටම් වෙනවා කියන එක සිදුවිය නොහැකියි. සෝතාපන්න වෙන කෙනාගේ අතින් රහතන් වහන්සේලාට කරදර වෙනවා, ඝාතනය වෙනවා කියන එක සිදුවිය නෙහැකියි. සෝතාපන්න වෙච්ච කෙනෙක්ගේ අතින් තථාගතයන් වහන්සේගේ ලේ සෙලවෙනවා, ස්තූප කඩනවා, වෙහෙරවල් කඩනවා, බෝධි වෘක්ෂ කපනවා කියන එක තරහ සිතින්, ඊළඟට නිදන් පිණිස ස්තූප හාරනවා කියන එක තරහ සිතින්, ඒ නිදන් පිණිස හාරනවා කියන එක සිදුවිය නොහැකියි. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ සෝතාපන්න වෙච්ච කෙනෙක්ගේ අතින් සංඝභේදයක් සිද්ධ වෙන් නෑ, සිදුවිය නොහැකි දේවල්. සිදුවිය හැකි දේවල් මොකක්ද? සෝතාපන්න නොවුනු කෙනා මේ සංස්කාර ධර්මයෝ නිත්‍යයි, සුඛයි, ආත්මයි කියලා ගන්නවා. සෝතාපන්න නොවුන කෙනාගේ අතින් අවස්ථාවක් ලැබුනොත් මව් ඝාතනය වෙන්න පුලුවන්, පියා ඝාතනය වෙන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේගේ ලේ සෙලවීම වෙන්න පුලුවන්. ඒ ලේ සෙලවීම කියන එක අදට තියෙන්නෙ චෛත්‍යය කඩන ඒවා, බෝධි කපන ඒවා. ජයසිරිමහා බෝධීන් වහන්සේලා විනාශ කරන ඒවා නපුරු සිතින්. අවස්ථාවක් ලැබුනොත් එයාගෙ අතට කුට්ටියක් ලැබිච්ච ගමන් ඔන්න සුදු රෙද්ද පොරවගෙන හිටියත් ඔන්න අත ගහනවා වැඩේට. එතකොට මේ ඔක්කෝම අශ්‍රැතවත්, අන්ධබාල, පෘථග්ජන ස්වභාවයෙන් ඉන්න කෙනාට සිදුවිය හැකියි. රහතන් වහන්සේ නමක් ඝාතනය කරන එක, සංඝ භේදය සිදුවිය හැකියි. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා, දැන් බලන්න මේ ඥාණය තුළ පිහිටලා දේශනා කරන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා බුදුරජාණන් වහන්සේලා දෙනමක් එක සක්වලක පහළ විය නොහැකියි. එක සක්වලක බුදු කෙනෙක්, එක බුදුරජාණන් වහන්සේ නමක් පහළ විය හැකියි. එකම සක්වලේ සක්විති රජවරු දෙදෙනෙක් පහළ විය නොහැකියි. එක සක්වලක එක සක්විති රජ කෙනෙක් පහළ විය හැකියි. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා ස්ත්‍රියක් කවදාවත් බ්‍රහ්මයෙක් විය නොහැකියි. සක්දෙවිඳු විය නොහැකියි, මාරයා විය නොහැකියි, ඊළඟට යමරජ්ජුරුවෝ විය නොහැකියි. සක්විති රජ්ජුරුවෝ වෙලා ඉපදීම විය නොහැකියි, සම්බුදු බවට පත්විය නොහැකියි ස්ත්‍රියකට. පිරිමියෙක් බ්‍රහ්මයා වෙනවා කියන එක සිදුවිය හැකියි. පිරිමියෙක් සක්දෙවිඳු වෙනවා කියන එක සිදුවිය හැකියි. ඊළඟට පිරිමියෙක් තමයි මාරයා වෙන්නේ, යමරජ්ජුරුවෝ වෙන්නෙ. පිරිමියෙක් තමයි සක්විති රජ වෙන්නෙ. පිරිමියෙක්

තමයි ලොව්තුරා සම්මා සම්බුදු බවට පත්වෙන්නේ, විය හැකියි. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා කාය දුශ්චරිතය නිසා, වචී දුශ්චරිතය නිසා, මනෝ දුශ්චරිතය නිසා ඉෂ්ටකාන්ත මනාප, ප්‍රියමනාප සැපක් උපදිනවා කියන එක සිදුවිය නොහැකියි. කාය, වචී, මනෝ දුශ්චරිතය නිසා දුක උපදිනවා කියන එක සිදුවිය හැකියි. ඔන්න ඒක ඥාණයක්. සතෙක් මැරුණොත් අපි අතින් ඒක මුල් කරගෙන කවදාවත් සැපක් උපදින්නෑ, අනිවාර්යයෙන්ම දුකක් නම් විඳින්න වෙනවා. හොරකමක් කෙරුණොත් අපි අතින් ඒක මුල් කරගෙන කවදාවත් සැපක් නම් විඳින්න වෙන් නෑ. දුකක් විඳින්නම වෙනවා. වැරදි කාම සේවනයක් වුනොත් අපි අතින්, ඒ වැරදි කාම සේවනයේ විපාක විදියට අනාගතයේ අනිවාර්යයෙන් දුක් විඳින්න වෙනවාමයි එය මුල් කරගෙන සැපක් නම් උපදින් නැමයි. ඊළඟට බොරුවක් කිව්වොත් ඒ බොරුව මුල් කරගෙන අනාගතේ අනිවාර්යයෙන්ම දුකක් විඳින්න වෙනවාමයි, ඒක මුල් කරගෙන සැපක් නම් ලැබෙන් නෑ. සැපක් විඳිනකොට මං සංසාරයේ බොරුවක් කියලා තියෙනවා, ඒක වෙනුවෙන් මං මේ සැප විඳින්නෙ, එහෙම එකක් නෑ. ඊළඟට කේලම මුල් කරගෙන, කේලමක් කිව්වොත් ඒකෙන් නම් කවදාහරි සංසාරයේ දුකක් විඳින්නම වෙනවාමයි, ඒක මුල් කරගෙන සැපක් ලැබෙන්නේ නැමයි. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා පරුෂ වචනය මුල් කරගෙන අනාගතයේ අනිවාර්යයෙන් දුකක් විඳින්න වෙනවාමයි, සැපක් ලැබෙන් නැමයි. ඊළඟට හිස් වචන, ඔහේ වල්පල් කතා කර කර ඉන්න එක මුල් කරගෙන අනාගතයේ දුකක් විඳින්න වෙනවාමයි, සැපක් ලැබෙන්නේ නැමයි. ඔය නිතර වල්පල් ඔහේ කතා කර කර ඉන්න එකේ ආදීනවයක් තමයි, විපාකයක් තමයි කියනවා, නිතර නිතර රාග හිතින් බැට කන්න වෙනවා කියනවා, ද්වේෂ හිතින්, මෝහ හිතින් බැට කන්න වෙනවා කියනවා, පුංචි අරමුණටත් ඉක්මණට රාගය ඇතිවෙනවා. පොඩ්ඩ දේටත් ඉක්මණට තරහා යනවා, පොඩ්ඩ දේටත් ඉක්මණට මෝහය ඇවිස්සෙනවා, ඒ හේතුව හිස් වචන කතා කරලා තිබීමේ විපාක. බලන්න ඒ දුක් වල විපාක. බුදුරජාණන් වහන්සේ ඊළඟට වදාළා ලෝභ කිරීම තුළින්, තරහ ගැනීම තුළින්, තරහ ගත්තොත් ඒකෙන් අනිවාර්යයෙන් දුකක්මයි උපදින්නේ, සැපක් නම් නෑ. එතකොට එයාට සැපක් විඳින දවසක මං මේ සැප විඳින්නේ එදා තරහා ගත්ත නිසා කියලා කවදාවත් දකින්න බෑ, ඒක සිද්ධ වෙන්නෑ. මිත්‍යා දෘෂ්ටිය මුල් කරගෙන දුකක්මයි උපදින්නෙ, සැපක් උපදින් නෑ. මේ බලන්න බුදුරජාණන් වහන්සේ දස බල ඥාණ තුළ පිහිටලා, විශාරද ඥාණ තුළ පිහිටලා වදාළ දේ. එතකොට ඒ නිසා පළවෙනි ඥාණ බලය, ඨානාඨාන සිදුවිය හැකි දේ

නොහැකි දේ. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කළා යම්කිසි කෙනෙකුට වැරැද්ද වැරැද්ද වශයෙන් දැකලා ආයතන සංවරයට පත්වෙලා ගුණධර්මය දියුණු කරලා එයාට නිවනට මාර්ගය දියුණු කරගන්න පුලුවන්. ඒක විය හැකි දෙයක්. ඒක නිකං ආවාට ගියාට කෙනෙක් හුරතල් කරන්න බුදුරජාණන් වහන්සේ දේශනා කරපු දෙයක් නෙවෙයි. විය හැකි දේ. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා යම්කිසි කෙනෙක් යම් අකුසල් මාවතේ නම් යන්නේ ඊට අනුව තමයි එයා ඒ සතර අපායට වැඩෙන්නෙ. මාර්ගය වෙනස් කරගත්තොත් එයා සතර අපායට වැටෙන් නෑ. ඊළඟට පංච ආනන්තරිය කර්ම වලින් විපාක ඊළඟ ජීවිතේම එනවා, ඒක ආනන්තරීය කර්ම, සිදුවිය හැකියි. ඒ නිසා සිදුවිය හැකි දේවල්, නොහැකි දේවල් බුදුරජාණන් වහන්සේ වදාළේ. පින්වත් මහණෙනි, කාය සුචරිතය පුරුදු කරන්න. කාය දුශ්චරිතය දුරු කරන්න. මනෝ සුචරිතය පුරුදු කරන්න, මනෝ සුචරිතය පුරුදු කරන්න, මනෝ දුශ්චරිතය බැහැර කරන්න. වචී සුචරිතය පුරුදු කරන්න, වචී දුශ්චරිතය බැහැර කරන්න කියලා බුදුරජාණන් වහන්සේ වදාළේ එය කරන්න හැකි නිසා. නොහැකි නම් දේශනා කරන් නෑ. කළ හැකි දේ නොහැකි දේ බුදුරජාණන් වහන්සේ දන්නවා. එතකොට පඤ්චසීලයක් වදාළේ ඒක රකින්න පුලුවන් එකක් නිසා. අපිට තිබ්බට ඔය කවදාද අපි පන්සිල් රකින්නේ? කවදාද අපි බඹසරක් රකින්නෙ? අනේ කවදාද අපි භාවනාවක් කරන්නේ කියලා අපිට නම් ඕවා කවදාවත් කරගන්න වෙන් නෑ කියලා කියනවා. නමුත් ඒක, අපිට දසබල ඥාණ නැනෙ. දසබල ඥාණ තියෙන්නෙ බුදුරජාණන් වහන්සේටනෙ. බුදුරජාණන් වහන්සේ වදාළානෙ මේක කරන්න පුලුවන් කියලා. ඒකෙ කරන එකේ අඩුවැඩිකම්, ප්‍රමාද, කාල වකවානු, හිමීට පුරුදුවීම් එහෙම තියෙනවා. අපිට ඕනවෙන්නේ බුදුරජාණන් වහන්සේගේ දසබල ඥාණය ගැන තියෙන විශ්වාසය. ඉතින් සමහර අය අපිට ඇවිල්ලා කියනවා, සමහර ළමයි අනේ අපිට නම් කවදාවත් බඹසරක් නම් රැකගන්න වෙන්නැති වෙයි. අපිට නම් කවදාවත් ස්වාමීන් වහන්සේ මේ ෆෝන් එකේ ඇබ්බැහිවීමෙන් නම් ගැලවෙන්න බෑ. මේ වාගේ ඇවිල්ලා මොකාක්හරි දුක් අඳෝනාවක් කියනවා. එහෙම කිව්වාට ඒක එයාගෙ අදහස. නමුත් බුදුරජාණන් වහන්සේ කිව්වා කාය සුචරිතය පුරුදු කරන්න පුලුවන්. සුචරිතය පුරුදු කරන්න පුලුවන්, දුශ්චරිතය බැහැර කරන්න පුලුවන් කියලා බුදුරජාණන් වහන්සේ වදාළා. එතකොට එයාට අමාරුකම්, එයාට කරගන්න බැරි දේවල්, එයාගෙ පසුබෑම්, ආයෙ ආයෙ පරණ පුරුද්දටම හිත යන ඒවා, ඒවා සිද්ධ වුනොත් එයාට හිතෙන්නෙ මට බෑ කියලා අතහරින

එක නෙවෙයි. බුදුරජාණන් වහන්සේ කිව්වෙ මේක පුලුවන් කියලා වදාළානෙ. මම උත්සාහ කරලා බලන්න ඕන. යම් දවසක ඔහුට ප්‍රත්‍යක්ෂ වෙනවා බුදුරජාණන් වහන්සේ වදාළ දේ හරි. මේක කරන්න පුලුවන්නෙ කියලා. ඒ නිසා මේ පළවෙනි තථාගත බලය ගැන ලොකු විශ්වාසයක් ඇති කරගන්න. පහදින්න. සරණ යන්න. දැන් මහාසෑය, මහා බෝධිය වඳින්න යන්න ලැබුනාම, ඒ වඳින ගමන් ගෙදර වඳින ගමන්, පාඩුවෙ වඳින ගමන් සරණ යන්න. සිහි කරන්න, මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේ සිදුවිය හැකි දේ සිදුවිය හැකි දේ වශයෙනුත්, සිදුවිය නොහැකි දේ සිදුවිය නොහැකි දේ වශයෙනුත් දන්නා සේක. මේ තථාගත බලය තුළ පිහිටලයි බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කලේ, ඒකාන්ත සත්‍යයක්. ඒ බුදුරජාණන් වහන්සේ මම සරණ යනවා. පළවෙනි තථාගත බලයට මාගේ නමස්කාරය වේවා. තමන්ගේ වචන ටිකක් ගොනු කරගන්න. භාවනා වශයෙන් වුනත් ඒවා වඩන්න පුලුවන්. ඊළඟට පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ ඊළඟ බලය තමයි, කම්ම සමාදාන ඥාණය. බුදුරජාණන් වහන්සේ කියනවා පුනචපරං සාරිපුත්ත තථාගතෝ අතීතානාගත පච්චුප්පන්නානං කම්මසමාදානං හේතු සෝ ඨාන සෝ විපාකං යථාභූතං පජානාති, සාරිපුත්ත. බුදුරජාණන් වහන්සේ වදාළා සාරිපුත්‍රයිනි, තථාගතයන් වහන්සේට අතීත, අනාගත, වර්තමාන කර්ම විපාක හේතු වශයෙන්, තැන් වශයෙන් විපාක දෙන විදිය දේශනා, දකින්න ඥාණයක් තියෙනවා. එතකොට ඒ ඥාණය තුළ පිහිටලා තමයි බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරන්නෙ. එතකොට කෙනෙක් ආවට පස්සෙ මෙයා අතීතයේ කරපු කර්ම, ඒවා දැන් විපාක එනවද, අනාගතේට විපාක කොහොමද තියෙන්නෙ, ඒ ඔක්කොම බුදුරජාණන් වහන්සේ දකිනවා තත්පරේට. බුදුරජාණන් වහන්සේ දකිනවා කර්ම කරනකොට දිට්ඨධම්මවේදනීය කර්ම එන හැටි, ඊළඟට උපපජ්ජවේදනීය කර්ම ඊළඟ ජීවිතේට කරන කර්මයේ විපාක එන හැටි, අපරාපරියවේදනීය කර්ම සසරේ කරපු එකක් කොතනක හරි විපාක දෙන හැටි බුදුරජාණන් වහන්සේට පේනවා. එතකොට ගොඩාක් ඈත සංසාරයේ කරපු සමහරවෙලාවට පිනක් තියෙනවා නම් බුදුරජාණන් වහන්සේ ඒක ඉස්මතු කරවනවා. ඒ පින දකිනවා බුදුරජාණන් වහන්සේ. ඒ කියන්නෙ අපි යම් මලක් පූජා කරලා තියෙනවා නම් බුදුරජාණන් වහන්සේ නමකට ඒ හැමදෙයක්ම පේනවා. අපිට හැමදෙයක්ම අමතක වෙන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේට පේනවා. අපි කරපු සෑම චේතනාවක් මුල් කරගෙන කරපු සෑම ක්‍රියාවක්ම වචනයක්ම සිතිවිල්ලක්ම, ඒවනෙ කර්ම කියන්නෙ, ඒක

බුදුරජාණන් වහන්සේට දකින්න පුලුවන්. බුදුරජාණන් වහන්සේ දකිනවා මේ කර්ම මෙයාලා කරලා තියෙනවා, එතකොට මේ කර්මවලින් ආයෙ මේ අයට විසඳුමක් නෑ, ඒ නිසා බුදුරජාණන් වහන්සේ ඒ වගේ තැන්වල උපේක්ෂාවට පත්වෙනවා. උදාහරණයක් ගත්තොත් සුනක්කත්ත, ඊළඟට කෝකාලික, දේවදත්ත. මේ අය ඒ කර්ම කරලා කර්මයෙන්ම වැහිලා. දැන් සුනක්කත්ත බුදුරජාණන් වහන්සේ ළඟට සාරිපුත්ත, මොග්ගල්ලාන උත්තමයන්ගේ වැරදි කියාගෙන එනකොට බුදුරජාණන් වහන්සේ ඒ තත්පරේට සසරේම බැලුවා කියනවානෙ මේ ආර්ය උපවාදයක් වළක්වන කර්මයක් මෙයා කරලා තියෙනවාද කියලා. ආර්ය උපවාද වැළැක්වෙන කර්මයක් සසරේම කරලා නෑ. එතකොට බුදුරජාණන් වහන්සේට වුනත් එයාව බේරගන්න පුලුවන්නෙ, එයාගේ සංසාරේ එයාගේම කර්ම ශක්තියක් අල්ලලාම තමයි පින්වත්නි. ඒ නිසයි කියන්නේ මේ කුසල් කරගන්න, පින් කරගන්න, ඊළඟට ශ්‍රද්ධාව උපදවගන්න. ඊළඟට බුදුරජාණන් වහන්සේ බැලුවා කියනවා දේවදත්ත ගැන. දේවදත්ත ගැන තමයි කියනවා වැඩිපුරම බලපු කෙනා. අශූචි වලක වැටිලා ඉන්න කෙනෙක් අශූචි වලෙන් ගොඩගන්න කෙස් ගහක තරම්වත් තැනක් තියෙනවාද කියලා බැලුවා කියනවා ඒ අශූචි ගාගන්න කැමැති නැති සත්ත්වයා, ඒ නුවණැති පුද්ගලයා බැලුවා කියනවා අශූචි ගෑවිච්චි නැති කෙස් ගහක් හරි තියෙනවා නම් ඇදලා ගන්න ඔහුව උඩට. ඉතින් එහේමවත් තැනක් නෑ කියනවා. ඒ වගේ කියනවා දේවදත්ත අකුසලයේම ගිලිලා ගියා කියනවා එක කුසල් මාත්‍රයක්, කෙස් ගහක තරම් කුසල් මාත්‍රයක් නෑ කියනවා. එතකොට මං කල්පනා කලේ පින්වතුනි, බුදුරජාණන් වහන්සේ කෙනෙක් බේරගන්නවා එයා තුළ කෙස් ගහක් තරම්වත් කුසලයක් තියෙනවානම්. ඒකයි මේ කියන්නෙ, සරණ යන්න, කුසල් කරන්න, මේ ප්‍රතිපදා පුලුවන් විදියට පුරුදු කරන්න. මේ කියන්නෙ ඇයි, මේ කොච්චර කුසල් උපදිනවාද. මේවට කුසල් ගංගා කියලා කියන්නෙ මේ තෙරුවන් සරණ යන එකට. බුදුරජාණන් වහන්සේට පහදින එක කුසල් ගංගා, පුණ්‍ය ගංගා. එතකොට බුදු කෙනෙකුට පුලුවන් කුසල්, කෙස් ගහක තරම් කුසලයක් තිබ්බොත් ශාසනයට ඇදලා ගන්න පුලුවන්. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ ඒ කර්ම ශක්තිය දකිනවානෙ. එතකොට පින්වතුනි අපි දැන් ගත්තොත් එහෙම බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝකයේ සත්ත්වයා කළු කර්ම කරනවා, ඒ කියන්නෙ වැරදි කර්ම, නරක ලෝකෙකට යනවා. සුදු කර්ම කරනවා දිව්‍ය ලෝකෙකට යනවා. කළු සුදු කර්ම දෙකම මිශ්‍රව කරනවා මනුස්ස ලෝකෙ උපදිනවා. එතකොට බුදුරජාණන්

වහන්සේ මේ කර්ම කරද්දින් කොහොමද වෙන්නේ කියලා තේරෙනවා. ඒ වගේම තව විශේෂ කාරණාවක්, ඒ තමයි දැන් බුදුරජාණන් වහන්සේ දැක්කනෙ අර විසඳුම් නැතිව දැක්කානෙ, බුදුරජාණන් වහන්සේ දැක්කා තව සමහර අය අකුසල් සමාදන් වෙලා ඉන්නවා. අකුසල් සමාදන් වෙලා හිටියට බුදුරජාණන් වහන්සේ දන්නවා මෙයාට නිවන වැහිලා නෑ. නමුත් ඉන්නෙ අකුසල් ගොඩේ, නිවන වැහිලා නෑ. එයාට බුදුරජාණන් වහන්සේ පිහිට වෙනවා. අර පුණ්‍යසේනියට වගේ. පුණ්‍යසේනිය ගෝව්‍රත, සුනඛව්‍රත සමාදන් වෙලා අත්තකිලමතානුයෝගය. බඩගාගෙන බුදුරජාණන් වහන්සේ ළඟට ආවෙ. බුදුරජාණන් වහන්සේගේ ධර්ම දේශනාව ශ්‍රවණය කරලා ඒ දෙන්නම පැවිදි වෙලා අර්හත්වයට පත්වෙනවානෙ. බලන්න සමාදන් වෙලා හිටියේ අකුසලය. නමුත් එයාට නිවන වැහිලා තිබ්බේ නෑ, නිවන ඉපැද්දුවා. ඔය නිගණ්ඨ පිරිසගේ හෝ ෂඩ් ශාස්තෘවරුන්ගේ ශ්‍රාවකයන්ගේ හෝ යම් කෙනෙකුට තිබ්බානම් කුසල් මාත්‍රයක්, ශාසනයේ පිහිට ලබන්න, බුදු කෙනෙක්ගෙන් මං ඇරෙන් නෑ. ඒ සේනාව ඔය ෂඩ්ශාස්තෘවරුන්ගේ, ඒ සේනාව මිත්‍යාදෘෂ්ටික සේනාව එහේම්මම මං ඇරිලා ගියේ ඔවුන්ට බුදු කෙනෙක්ගේ ශාසනයේ පිහිට ගන්න වාසනාව නෑ. අද වුනත් අපි කොච්චර මිත්‍යාදෘෂ්ටිය කඩන්න කතා කලත් මේ එක පිරිසක් මිත්‍යාදෘෂ්ටියේම ඇලී ගැලී වෙලී වාසය කරන්නෙ, ඔවුන්ට භාග්‍යවතුන් වහන්සේගේ ශාසනයේ පිහිට ගන්න කුසලය නෑ. ඒ නිසයි සමහර ධර්ම දේශකයාණන් වහන්සේලා මගෙන් අහනවා, ස්වාමීන් වහන්ස අපි දැන් මේ කොච්චර ධර්ම දේශනා කලත් මිත්‍යාදෘෂ්ටියේ ඉන්න, පරණ දෘෂ්ටි වල ඉන්න මිනිස්සු එහේම්මම ඉන්නවානෙ. ඉතින් අපි සිහි කරනවා ස්වාමීනී, අපි අණබෙර කාරයො. අපි බුදුරජාණන් වහන්සේගේ ධර්මය දේශනා කරගෙන යන, පණිවිඩේ කියාගෙන යන අණබෙර කාරයො වගේ. ඒ නිසා මං කියනවා ස්වාමීනී, අපි ධර්ම කාරණා ටික අපි කියාගෙන යමු. ඒවා පිළිපදින එක නැති එක අපිට අදාළ නෑ. අපේ වැඩේ අපි හරියට කරමු කියලා අපි සාකච්ඡා කරනවා. ආන්න එතකොට ධර්මය ගැන අපිට තව තවත් පැහැදීම ඇතිවෙනවා. ඒ නිසා මේ ධර්මයට පහදින්න මේ බුදුගුණයක්වත් අහන්න පින්වතුනි මේ සංසාරයේ පිනක් තියෙන්න ඕනනෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ දකිනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ දකිනවා දැන් මෙයා පව් කරගෙන ඉන්නවා, හැබැයි ඊළඟ පාපය කළොත් ආයෙ බේරන්න බෑ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ඉක්මණට එතෙන්ට ඉදිරිපත් වෙනවා. උදාහරණයක් වශයෙන් ගත්තොත් අංගුලිමාල. අංගුලිමාල මෙච්චර දහස් ගණන් මිනී මැරුවා, නිවනට

බාධාවක් නෑ ඒක. දැන් නිවන වහගෙන තිබ්බෙ නෑ ඒ අකුසලය. හැබැයි ඊළඟ මොහොතේ මව්ව ඝාතනය වෙනවා, අම්මව. ඊට කලින් බුදුරජාණන් වහන්සේ වැඩියා. ඇත්තටම බුදුරජාණන් වහන්සේ වැඩ හිටියෙ නැත්නම් බුදුරජාණන් වහන්සේ වැඩ හිටියෙ නැත්නම් අංගුලිමාල සතර අපායෙමයි. ආයෙ බේරන්න බෑ, නිවන් දකින්නෙ නැමයි. ඒ මව් ඝාතනය වුනා නම් ඉවරෙටම ඉවරයි. ඊට කලින් බුදුරජාණන් වහන්සේ වැඩියෙ. බුදු කෙනෙක් හිටපු නිසා හොඳයි. අපි මේ සාරිපුත්ත මහරහතන් වහන්සේ, මුගලන් මහරහතන් වහන්සේ, අංගුලිමාල මහරහතන් වහන්සේ, බක්කුල මහරහතන් වහන්සේ, ආනන්ද මහරහතන් වහන්සේ මේ රහතන් වහන්සේලාගේ අනේක ගුණ කතා කරනවානෙ. උන්වහන්සේලා සඳමඩල වල් වගේ. ඒ වුනාට පින්වතුනි ඔය හැම හඳකටම එළිය එන්නේ ඉරමඩලෙන්. බුදුරජාණන් වහන්සේ ඉරමඩල වගේ. බුදුරජාණන් වහන්සේටම පහදින්න ඕන පින්වත්නි. එච්චරම බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුණකඳ. එතකොට පින්වතුනි බුදුරජාණන් වහන්සේ ඒ කර්ම වල ස්වභාවය වදාළා, ඒක බුදුරජාණන් වහන්සේගේ ඥාණයක්. අතීත, අනාගත, වර්තමාන, කර්ම විපාක දෙන හැටි බුදුරජාණන් වහන්සේට ජේනවානෙ. දැන් එක ස්වාමීන් වහන්සේලා පිරිසක් භාග්‍යවතුන් වහන්සේ බැහැදකින්න එනකොට ලොකු වැස්සක් ආවා. උන්වහන්සේලා එතන තිබුනු ලෙනකට ගියා. ඊටපස්සෙ ඒ ලෙනේ වැස්සට ඉන්නකොට ඒ ලෙනට එහාපැත්ත නාය ගිහිල්ලා එතන තිබ්බ ගලක් පෙරලිලා ඇවිල්ලා ලෙනේ දොර වැහුනා, එක දිගට වැස්ස. අර ස්වාමීන් වහන්සේලාට දානෙ නෑ, මොනවත් නෑ, හෙම්බත් වෙලා ඉන්නවා දැන්. මරණය කැමැත්තෙන් ඉන්නවා, ධර්මය සිහි කරගෙන ඉන්නවා. හත්වෙනි දවසේ වැස්ස වැඩිවෙලා වැඩිවෙලා අර දොර ළඟ හිරවෙලා තිබ්බ ගල හිරවෙලා තිබ්බෙ බිම තිබ්බ ගලක් උඩ. ඒ ගල නාය ගියා, එතකොට මේ ගල පෙරළුනා. ඉතින් බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා කියාහිටියා, සසරේ තමන් කරපු දේවල් කිව්වා. පොඩි ළමයි ටිකක් වෙලා තලගොයෙක් පිටිපස්සෙ පන්නගෙන ගිහිල්ලා හුඹහට රිංගුවට පස්සෙ ගල් දාලා. ආයෙ එතන සෙල්ලම් කරන්න ඇවිල්ලා තියෙන්නෙ ඊළඟ සතියෙ. අනේ අර අපි එදා ගල් දාලා ගියානෙ කියලා ගල් ටික ඔක්කොම අයින් කරලා. සතියක් තලගොයා හිරකරලා තිබ්බා. උපනූපන් ජීවිතේ හැමදාම සතියක් හිරේට වැටෙනවා, කොහෙහරි හිරවෙලා ඉන්නවා. කොහොමද කර්ම වල ස්වභාවය. දැන් අර පොඩි දරුවෙක් අර නළ ළිං කටක් ඇතුලට ගිහිල්ලා හිරවුනේ. සසර කර්ම වල ස්වභාවවල්. ඊළඟට පොඩි ළමයි ටිකක් අර ගුහාවකට රිංගලා එක පාරටම

වැස්සක් ඇවිල්ලා ගුහා කට වැහුනෙ. දවස් ගාණක් ගුහාවෙ ඇතට ඇතට ගිහිල්ලා ඉඳලා බේරගත්ත සිද්ධි තියෙන්නෙ. අපිට, අපි ඒක වීරත්වයකින් ඒ ළමයිගේ ඔරොත්තු දෙන ශක්තිය, ඒ ළමයිගේ වීරත්වය, බේරගත්ත අයගේ වීරත්වය ලෝකෙම කතා වෙනවා. අපි දන්නවද එයාලා කරපු කර්මය, එච්චර දවසක් නොකා නොබී එහෙම හිරවෙලා ඉන්න. ලේසි නෑ පින්වත්නි මේක. දැන් බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ මේවා තේරුම් ගන්න. මේ කර්ම වල ස්වභාවවල්. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා දැන් අපායසංවත්තනික සූත්‍ර දේශනාවෙ තියෙනවා, අපි යම් කර්මයක් කලොත්, අපි කියමු ප්‍රාණඝාතය කියලා. ප්‍රාණඝාත කර්මය කළොත් එහෙම නිරයේ යනවා, තිරිසන් ලෝකෙ යනවා, ප්‍රේත ලෝකෙ යනවා. ඊටපස්සෙ මනුස්ස ලෝකෙට ආවොත් එහෙම, ඔය කර්ම ගෙවලා මනුස්ස ලෝකෙට ආවොත් ඒ කර්මයේ අවම විපාකය එනවා, අඩු වයසින් මැරෙනවා. එතකොට මේ තමයි කර්මය දකින ඥාණය. ඒ විතරක් නෙවෙයි මේකෙම තියෙනවා ඨානාඨාන ඥාණය. සිදුවිය හැකි සිදුවිය නොහැකි ඥාණය තියෙනවා මෙතන. මේ තමයි සිදුවෙන දේ. කර්ම විපාක ඥාණයත් තියෙනවා. ඒ එක වචනෙක දසබල ඥාණයම තියෙනවා. මේ වගේ ඥාණ තුළ පිහිටලා දහම් දෙසූ ශාස්තෘවරයෙක් කියන්න පින්වත්නි. මේ දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකෙ. එකම එක ශාස්තෘන් වහන්සේ නමයි. ලොව්තුරා තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේ. පහදින්න මුළු හදවතින්ම. සරණ යන්න දිවි හිමියෙන්ම. ඊළඟට පින්වත්නි සොරකම් කරන කෙනා ඒ කර්මයේ විපාක වශයෙන් නිරයේ යනවා, තිරිසන් ලෝකයේ යනවා, ප්‍රේත ලෝකයේ යනවා. මනුස්ස ලෝකෙට ඇවිල්ලා අවම විපාකය විඳිනවා සකල සේසතම නැතිවෙලා යනවා. රජුන්ට අහුවෙනවා, හොරුන්ට අහුවෙනවා. ඊළඟට ගින්නට අහුවෙනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දැන් මේක සිදුවිය හැකි, නොහැකි ඥාණයත් තියෙනවා. අනිවාර්යයෙන් සිදු වෙන දේවල්. කර්ම විපාක ඥාණයත් තියෙනවා, මෙන්න විපාක දෙන හැටි. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා වැරදි කාම සේවනයක් කළොත් එහෙම ඔන්න විවාහ වෙන්නැතිව ඉඳලා කාන්තාවක් ඇසුරු කරනවා, එහෙම නැත්නම් පිරිමියෙක් ඇසුරු කරනවා. විවාහ වෙලා ඉඳලා තමන්ගෙ බිරිඳ හැර වෙන කෙනෙක් එක්ක ඇසුරු කරනවා. ස්වාමියා හැර වෙන කෙනෙක් එක්ක ඇසුරු කරනවා. එයා ඒ කර්මය මුල් වෙලා නිරයේ යනවා, තිරිසන් ලෝකයේ යනවා, ප්‍රේත ලෝකෙ යනවා. මනුස්ස ලෝකෙ ආවොත් ඒ කර්මය විපාක එන්නෙ කොහොමද, යන යන තැන සතුරෝ. අවම විපාක, සතුරෝ. ඊටපස්සෙ

බුදුරජාණන් වහන්සේ වදාළා සුරාව පානය කරන එකෙන්, නිරයේ යනවා, තිරිසන් ලෝකෙ යනවා, ප්‍රේත ලෝකෙ යනවා. මනුස්ස ලෝකෙ ආවට පස්සෙ මන්දබුද්ධිකයි. අවම විපාකය. එතකොට බුදුරජාණන් වහන්සේ කර්ම විපාකය දන්නෙ, ඥාණයෙන් ඒක දේශනා කරන්නෙ. එතකොට සිදුවිය හැකි නොහැකි දේවල් බුදුරජාණන් වහන්සේ දන්නවානෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා සමහර අය ඉන්නවා, පරුෂ වචන කතා කර කර ඉන්නවා. පරුෂ වචනමයි, නිරයේ යනවා. ඒ කියන්නෙ කුණුහරුප, හිත රිදෙන ඒවා. සමහර ගම්වල අම්මෝ අපිට ඇහිලා තියෙනවා, ගෙවල් වලම තමන්ගේ මිනිහට කතා කරන විදිය. හැමදාම ගමටම කුණුහරුපෙන් බනින මිනිස්සු ඉන්න ගම්මාන තියෙනවා. පරුෂ වචනය. සැරයි. එතකොට මේ පරුෂ වචනයේ විපාක විදියටත් සතර අපායේ වැටෙනවා. මනුස්ස ලෝකෙට ආවට පස්සෙ එයාට කණට මිහිරි වචනයක් ඇහෙන්නෙම නෑ, අවම විපාක. දැන් සමහර ගෙවල් වල සමහර ස්ත්‍රීන් ඉන්නවා හරියට පිරිමින්ට බනිනවා. පිරිමියා ඉතින් ඔළුව පාත් කරගෙන අහගෙන ඉන්නවා. එතකොට අපි ඉතින් බවලත්තුන්ට බනිනවානෙ මේ මුන්ගෙ හැටි කියලා. නමුත් ඒ පිරිමියාගේ කර්මයත් තියෙනවා, සංසාරේ කුණුහරුප කියපු, අනිත් අයට බැනපු, සැර කරපු, හිත් රිදවපු කර්මය විපාක දෙනවා. බැන්ද දවසේ ඉදලා කණට නෑ කංකරච්චලේ. ඒ තමන්ම කරපු කර්ම. ගෙදරක තියෙනවානම් රණ්ඩුසරුවල්, හැමදාම ඇනුම් බැනුම් ඇහෙනවානම් කාටහරි ඇහෙන කෙනා සංසාරයේ බැනපු එකක්, ඒකෙ විපාකයක් විදින්නෙ. බනින කෙනාටත් සංසාරයේ මේකම උරුම වෙනවා, එයාටත් අහගෙන ඉන්න වෙනවා තව කට්ටිය කියන ඒවා. පුදුම කර්ම ශක්තියක් මේ සසර චක්‍රය. අනේ මේ අපිට උතුම් සත්පුරුෂයෙක්, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ පහළ වෙලා මේ දහම් මාර්ගය විවෘත කරලා මෙහෙම කියපු නිසා දන්නවා, අම්මෝ නැත්නම් අපි මේ කිසිදෙයක් දන් නෑ. ගොඩාක් පව් කන්දරා පිටින් කරගෙන සසරට වැටෙයි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ මේ කර්ම වල ස්වභාවවල්. බුදුරජාණන් වහන්සේ ඒක දකිනවානෙ. විපාක දෙන තැන, හේතු ඔක්කොම දකිනවානෙ. විපාක දෙන තැන, ඒ කර්ම විපාක ඥාණයනෙ. දෙවෙනි ඥාණයනෙ කියන්නෙ අපි. එතකොට බුදුරජාණන් වහන්සේ දැක්කා දැන් ලකුණ්ඨ භද්දිය ස්වාමීන් වහන්සේට කට්ටිය ඔක්කොම හිනාවෙනවානෙ. මේ හිනාවෙනවා, ඇයි පුංචියිනෙ. කණෙන් අදිනවා, විහිළු කරනවා, නමුත් ඒ ලකුණ්ඨභද්දිය මහරහතන් වහන්සේ සමවදින්නැති සමාධියක් නෑ. නිකෙලෙස් මුණිවරයෙක්. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, දන්නවාද

ලකුණ්ඨභද්දියට ඔහොම වෙන්නෙ ඇයි කියලා? ඒකට හේතුව තමයි කියනවා ලකුණ්ඨභද්දිය කලින් සසරේ රජ කෙනෙක් වෙලා ඉඳලා ඒ රජතුමාගේ විනෝදාංශය තමයි වැඩිහිටි අයට, වයසක අයට විහිළු කරන එක. හැරමිටියෙන් යන වයසක අයගෙ හැරමිටිය අරන් විසි කරනවා, දැන් පලයන් කියනවා. ඊටපස්සෙ පොලු වලින් ගහනවා. ශ්‍රමණ බ්‍රාහ්මණයන්ට කරදර කරනවා. මිනිස්සු ඊළඟට හරියට නටන්න කියනවා, සින්දු කිය කියා වයසක අයට නටන්න කියනවා, රැග් කරනවා. ඒකෙන් තමයි රජ්ජුරුවෝ සතුටු වෙන්නෙ. ඊටපස්සෙ ළමයි කරපු වැඩේ තමන්ගේ දෙමව්පියෝ වෙන ප්‍රදේශ වලට යැව්වා, ඒ රටේ වයසක අය තිබ්බෙ නෑ කියනවා, ඒ රජතුමාගේ හිතේ තියෙන මේවා අසනීප ඉතින්. ඊටපස්සෙ මොකද වුනේ, සක්දෙවිඳු දුටුවා මේ දෙව්ලොව උපදින් නෑ කවුරුත්, ඒකට හේතුව මොකක්ද? දැක්කා මැරෙන මැරෙන මිනිස්සු නපුරු හිතින්, රජතුමාට තරහින් මැරෙන්නෙ. දුගති වල යන්නෙ. සුගතියෙ යන් නෑ. ඔක්කෝටම හේතුව මේ රජාගේ ක්‍රියාපටිපාටිය. ඊටපස්සෙ හොඳ වැඩක් කරන්නම් කියලා කිරිමුට්ටි ටිකක් කරත්තෙක දාගෙන වයසක සීයා කෙනෙක් විදියට වෙව්ලා වෙව්ලා කරත්තෙත් එක්කම එනවා. ඊටපස්සෙ රජ්ජුරුවො යන මාවත ඉස්සරහින් යනවා. ඊටපස්සෙ රජ්ජුරුවෝ පලයන් ඔතනින්, පලයන් කියලා කියනවා. ඊටපස්සෙ රජ්ජුරුවෝ පලයන් පලයන් කිව්වට අනිත් අයට කාටවත් පේන් නෑ මොකක්වත්, රජතුමාට විතරයි අර නාකි මනුස්සයාව පේන්නෙ. ඊටපස්සෙ ඔතනින් පලයන්, ඔතනින් පලයන් කියලා කියනවා. එහෙම කිව්වට අනිත් සේනාව හිතුවා රජතුමාගේ හිත උමතු වෙලා. ඊටපස්සෙ අර වයසක මනුස්සයා කිව්වා මම යන්නෑ කියලා. ඊටපස්සෙ අරයා ගොඩාක් උඩ ඉඳලා බනිනවා. ඊටපස්සෙ එයා ක්‍රියාවලිය දැන් අනිත් අයට හිනාවක්. ඊටපස්සෙ අර වයසක මනුස්සයා විදියට ආව සක්දෙවිඳු අර කරත්තෙත් එක්කම අහසට ගිහිල්ලා රජතුමාගෙ ඔළුව ළඟට ඇවිල්ලා අර කිරි මුට්ටි ටික ඔළුවෙ ගැහුවා. අදින් පස්සෙ වයසක අයට අතක් තියන්න එපා කියලා, සැර කලා. ඊටපස්සෙ ආයෙ එතනින්ම, දැන් මිනිස්සු බැලුවා කිරි නාගෙන එනවා, මීකිරි, මුළු ඇඟේම. ඒක පේනවා මිනිස්සුන්ට. ගහපු කෙනෙක් නෑ. ලැජ්ජාවට පත්වුනා. එදායින් ඒක නතර කලා. මං හිතන්නෙ මහාබෝධිසත්ත්වයෝ ඒක කලේ. එදායින් ඒක නතර කලා. ඊටපස්සෙ දැක්කද මිනිස්සුන්ට විහිළු කලා කියලා යමක් ඇත්ද, සංසාරේ තමන් විහිළුවට ලක්වුනා. දැන් කැම්පස් වල රැග් කරන ඒවා, ස්කෝල වලට අලුතෙන් ළමයි ආවට පස්සෙ රැග් කරන ඒවා කර්ම භයානකයි, භයානකයි, අතිශයින් භයානකයි. මොන

සංස්කෘතිය තිබ්බත්, තවත් අයට භය දෙන එක, තැතිගැනීම් දෙන එක, පීඩාවට පත් කරන එක, අපහසුතාවට පත් කරන එක, සමහර ළමයි සියදිවි හානි කරගන්නවා. සමහර ළමයි මානසික ලෙඩ වෙනවා. සමහර ළමයි මුල් කාලෙ මානසික බෙහෙත් බොනවා, ඔරොත්තු දෙන්නැතිව. ඒ කරන අයට ඒ විපාක එනවාමයි. කරන්න දෙයක් නෑ. භාග්‍යවතුන් වහන්සේ කර්ම විපාක ඥාණයෙන් මේවා දකිනවා. පවට බයවෙන්න ළමයිනේ. මේ අකුසල් තමා තුළ එනවානෙ. මේවා බුදුරජාණන් වහන්සේ දේශනා කලේ කුසල් අකුසල් දකින ඥාණයෙන්නෙ. ඊළඟට තියෙනවා, මේ තමයි, ඊළඟට ආනන්තරීය කර්ම. මව මැරීම, පියා මැරීම ආදී කර්ම. ඊළඟට රහතුන් ඝාතනය කිරීම. ඊළඟට අටුවා වල විස්තර කරනවා, දැන් බුදුරජාණන් වහන්සේ වෙනුවෙන්නේ සෑයට බෝධියට වන්දනා කරන්නෙ. එතකොට ඒ ස්තූප, බෝධි නපුරු සිතින් කැපීම කෙටීම විනාශ කිරීම භාග්‍යවතුන් වහන්සේගේ ලේ සෙලවීමට සමානයි කියලා. ඒනිසා ඒවගේ අකුසල් එනවා, අතොරක් නැතිව විපාක දෙනවා. තව සමහර කර්ම තියෙනවා අතොරක් තියලා විපාක දෙනවා. දැන් අර පහුගිය කාලෙ අපි අර විමාන වත්ථුව සාකච්ඡා කරනකොට ඔබට අහපු අය ඉන්නවා නම්, නැත්නම් අනිත් අයටත් තේරෙන්න මේ විස්තර කරන්නෙ, මේවගේ සමහර කර්ම තියෙනවා නිරයේ යන්න කර්ම, නිරයේ යන්න කලින් ප්‍රේත ලෝකෙ උපදිනවා. අවුරුදු පනස් පහක්, ඒ වගේ ප්‍රේත ලෝකෙ ඉපදිලා ඊළඟට නිරයට වැටෙනවා. අතොරක් තියලා විපාක දෙනවා. දෙව්ලොව යන අයට අතොරක් තියලා විපාක දෙනවා. සමහර විට ප්‍රේත ලෝකෙ ගිහිල්ලා ඊටපස්සෙ දෙව්ලොව යනවා. දැන් මල්ලිකා දේවිය නිරයේ පැහිලා දවස් හතක්, ඊටපස්සෙ දිව්‍යලෝකෙ ගියෙ. කර්ම විපාක වල ස්වභාවය. අතරක් තියලා විපාක දෙන ඒවා තියෙනවා. ඒ නිසා මේ කර්ම විපාක ඥාණය නම්, ඒකාන්තයෙන්ම ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේටමයි තියෙන්නෙ. සමහර අය ඉන්නවා ත්‍රිවිධ සුචරිතයේ යෙදිලා හොඳටම ඉන්නවා හරී දැහැමි අය. සංසාරේ කරපු බලවත් අකුසලයක විපාකයකින් ඊළඟ ජීවිතේ සතර අපායට වැටෙනවා. ඒක ගෙවලා, ඒ ගෙවන අතරේ මේ පින මතුවෙලා ආයෙ සුගතියේ උපදිනවා. ඊළඟට තව අය ඉන්නවා, තනිකර දුශ්චරිතයේමයි යෙදෙන්නෙ. පව්මයි කරන්නෙ. නමුත් සංසාරයේ කරපු බලවත් පිනක විපාකයක් ඇවිල්ලා අවසානෙට දෙව්ලොව උපදින්නෙ. හැබැයි දිව්‍යලෝකෙ ගිය ගමන් ඊළඟට මැරිලා නිරයේ යනවා. මේක පුදුම කර්ම ස්වභාවයෙක් තියෙනවා, බුදුරජාණන් වහන්සේ දුටුවා. පුදුම කර්ම ස්වභාවයක්. සුනීත, සුනීතගේ කර්මය, සුනීත

අශුචි අතගගානෙ හිටියෙ. කර්ම ස්වභාවය කොහොමද, බුදුරජාණන් වහන්සේ සුනීත දැක්ක ගමන්ම දැක්කා එයාගෙ සංසාරේ කර්මය. පසේ බුදුරජාණන් වහන්සේ නමක් වඩිනකොට මෙයා ඒ කාලයේ සිටුවරයෙක්. කිව්වා මෙයා පාත්තරේ අරන් අනුන්ගේ ගෙවල්වලම එක එක ඒවා හොය හොයා ඉන්නැතිව රස්සාවක් හොයාගන්නවාකො. ඒ රස්සාවක් නැත්නම් අඩුම තරමේ අශුචිවත් ඇදලා ජීවත් වෙනවාකො කිව්වා. කාටද මේ කිව්වෙ, පසේ බුදුරජාණන් වහන්සේට. නිරයේ ඊළඟ ජීවිතේ. ඊළඟ ජීවිතේ නිරයේ. උපනූපන් ජීවිතේ අතින්ම අශුචි ගන්න රස්සාවක්ම හම්බුනා. මේ අවසාන ජීවිතේ. කොහොමද වචනයක තියෙන කර්ම. වචනයක තියෙන කර්ම. ඒ නිසා ලේසි නෑ මෙව්වා. දැන් සමහර අය හාමුදුරුවන්ට කිපිලා, දැන් ඔය පහුගිය කාලෙ මට වෙච්චි දෙයක් කියන්නම්. මම ඔය මනාපකායික සූත්‍රය දේශනා කරලා, හරියට කාන්තාවො කිපුනානෙ අර පිරිමින්ගේ ගුණ කිව්වා කියලා. ඊටපස්සෙ මේ මනාපකායික ව්‍රතයෙන් දෙව්ලොව යන විදියට කිව්වෙ. ඊටපස්සෙ මිනිස්සු බැන බැන දානවා, තෝ සිවුරු ඇරලා ගෙදර පල, කියලා බැන බැන දානවා. මේ ෆේස්බුක් සටන යන්නෙ. එතකොට අපි මෙහෙ ධර්ම දේශනා කරනවා, අපි මොනවත් ඕවා දන්නෙ නෑ. නමුත් වචනෙක තියෙන කර්මය. සමහර විට ඒ අය සංසාරයේ, මේ සාප කරනවා නෙවෙයි, කර්ම ස්වභාවය කියලා දෙන්නේ පරිස්සම් වීම පිණිස. සංසාරයේ එයාලට මහණ වෙන්න ආස හිතෙනවා, මහණ වෙනවා. කාලයක් යනකොට සිවුරු හැරලා යනවා. ඇයි සිවුරු හැරලා යන්නෙ? එයාලා දන්නෑ මොකක්ද හේතුව? සංසාරේ තවත් භික්ෂුවකගේ චීවරය නැතිවීම අපේක්ෂා කරලා. ඒකට වචන පාවිච්චි කරලා. භයානකයි මේක. දැන් අර කිව්වෙ පසේ බුදුරජාණන් වහන්සේට රස්සාවක් නැතිනම් අශුචිවත් ඇදලා ජීවත් වෙනවා එක එක්කෙනාගෙන් ඉල්ලන්නැතිව කියලා. ඒ කර්මය ආවනෙ සුනීතට. මේ සුනීත වාගේ කියන්නේ මහා ශ්‍රාවකයොනෙ. මහා ශ්‍රාවකයො සුනීත. ඒ ඇත්තන්ට ඒ කර්ම ශක්තිය ආවනෙ. ඒ නිසා ඒ කර්ම විපාක ඥාණය. මේ පින්වතුනි දසබල ඥාණ, එක ඥාණයක් කියන්නේ දවස් ගණන් විස්තර කරන්න ඕන ඒවා. මේ තේරුම් ගන්න බුදු කෙනෙක්ගේ ඥාණ අවබෝධය. අපි සරණ ගියේ සුලු කෙනෙක් නෙවෙයි පින්වත්නි, මේ දෙවියන් බඹුන් සහිත තුන් ලෝකයාම සරණ සොයාගෙන ආපු උත්තමයන් වහන්සේනෙ. ඊළඟට තියෙනවා ඥාණය, සබ්බත්ථගාමිණී ඥාණය කියලා. ඒ කියන්නෙ පුනචපරං සාරිපුත්ත තථාගතෝ තථාගතානං සබ්බත්ථගාමිණිං පටිපදං යථාභූථං පජානාති. සියලුම ප්‍රතිපදා ඒ කියන්නෙ

සියලුම ජීවිත වලට, සියලු ලෝක වලට, සියලු ආත්මභාව වලට, සියලු භව වලට යන්න ඕන ප්‍රතිපදාව බුදුරජාණන් වහන්සේ දකිනවා. යන ප්‍රතිපදාව. එතකොට ඒක බුදුරජාණන් වහන්සේගේ සබ්බත්ථගාමිණී ප්‍රතිපදාව කියලා කියනවා. එතකොට බුදුරජාණන් වහන්සේගේ ඒ ඥාණය තමයි ගබ්බමේකේ උප්පජ්ජංති නිරයං පාපකම්මිනෝ සග්ගං සුගතිනෝ යන්ති පරිනිබ්බන්ති අනාසෝ, එතකොට බුදුරජාණන් වහන්සේ ඔය වදාළ ගාථාව. ඔය ගාථාව වදාළේ අර මනීකාරකුලුපගතිස්ස කතාවෙදි. රජ්ජුරුවෝ මැණිකක් ගෙනල්ලා දුන්නා මස් කපන අතින්ම මැණික අරන් තියලා ඒ වෙලාවෙම රහතන් වහන්සේලා දෙනමක් වැඩ හිටියා, මෙයා මස් කප කපා හිටියා, එතන හිටපු කුරුල්ලෙක් මස් කෑල්ලක් කියලා හිතලා මැණික ගිල්ලා. ඊටපස්සෙ දානෙ හදලා ඒ ටික කරලා මැණික හොයනකොට මැණික නෑ. සැක කලේ වැඩපු, පිණ්ඩපාතෙ වැඩපු හාමුදුරුවෝ. අවුරුදු දොළහක් දානෙ දුන්නා ගෙදරට වඩම්මලා දානෙ දීපු හාමුදුරුවෝ සැක කලානෙ. අනික මේ ස්වාමීන් වහන්සේ රහතන් වහන්සේ නමක්. ඊටපස්සෙ විස්තරේ කිව්වා, උන්වහන්සේ දැක්කා අර සතා ගිලිනවා. ප්‍රාණඝාතයේ, දැන් බලන්න රහතන් වහන්සේලා තමන්ගේ ජීවිතය අත්හැරියා, සීලය ඉක්මවා ගියේ නෑ. දැක්කද රහතන් වහන්සේගේ ජීවිතය. ඊටපස්සෙ ඔළුවට ලණුවක් දාලා කැරකුවා, කියාපං කියාපං කියලා. ඔළුව හිරවෙන්න, ලේ වැක්කෙරෙනවා. අර ගෑණු කෙනා කෑ ගගහා වැඳ වැඳ කියනවා, අනේ එහෙම කරන්න එපා, ඔය භික්ෂූන් වහන්සේට දෙන දඬුවම මට දෙන්න, භික්ෂූන් වහන්සේ උතුම් කෙනෙක් කියලා. මිනිහා ඇහුවේ නෑ, මිනිහාට යකා වැහිලා. ඊටපස්සෙ ඒ අතරේ අර ස්වාමීන් වහන්සේගෙන් වැක්කෙරෙන ලේ බොන්න අර කුරුල්ලා ආයෙ ආවා. එතකොට තෝත් එනවා මෙතන කියලා දුන්නා පයින් එකක්, බිත්තියෙ වැදිලා කුරුල්ලා මැරිලා වැටුනා. එතකොට ස්වාමීන් වහන්සේට තේරුනා, කුරුල්ලා මැරිලා වැටුනා කියලා. ඊටපස්සෙ කිව්වා පොඩ්ඩක් ඉන්න, අර කුරුල්ලා මැරුනද කියලා බලන්න කිව්වා. ඒකා මැරුනා, ඕකා විදියටමයි උඹත් මරන්නෙ කිව්වා. ඒ කුරුල්ලා මැරිලද කියලා හොඳටම බලන්න කිව්වා. ඒකා මැරුනා කිව්වා. ඔය කුරුල්ලා ගිල්ලා කිව්වා ඔය මැණික. ඊටපස්සෙ කුරුල්ලාගේ බඩ කපලා බලනකොට මැණික. සමාව ඉල්ලුවා වැඳ වැඳ. ඊටපස්සෙ කිව්වා නෑ සමාව දෙනවා රහතන් වහන්සේලාගේ හිතේ, ඒ උත්තමයන්ගේ හිතේ නෑ කිව්වා කහටක් හිතේ. අර උපාසිකාව උන්වහන්සේ උණු පැන් වලින් නාවන්න කටයුතු කරලා දානෙ දීලා අනේ සමාවෙන්න කියලා අනේකවාරයක් සමාව ඉල්ලුවා. ඊටපස්සෙ කාලෙක අර කුරුල්ලා ඒ

ගෑණුකෙනාගෙ බඩේ ඉපදුනා. ඊටපස්සෙ අර රහතන් වහන්සේ ඒකෙන්ම පිරිනිවන් පෑවා. අර මනුස්සයා නිරයේ ගියා. කාන්තාව දෙව්ලොව ගියා. බලන්න කිව්වා එකම ගෙදර එකම සිද්ධිය මුල් කරගෙන සිද්ධ වෙච්චි දේවල්. ගබ්බමේකේ උප්පජ්ජන්ති, එක්කෙනෙක් අම්මා කෙනෙක්ගේ බඩට ආවා, අර කුරුල්ලා. නිරයං පාපකම්මිනෝ, අර මැණික් කපපු මනුස්සයා නිරයේ ගියා රහතුන්ට වද දීලා. සග්ගංසුපිනෝ යන්ති, රහතන් වහන්සේලාට පැහැදිලා දන්පිදූ උපාසිකාව දෙව්ලොව ගියා. පරිනිබ්බන්ති අනාසවා, ඒ ආස්‍රව රහිත රහතන් වහන්සේ පිරිනිවන් පෑවා. මේ බලන්න සිද්ධ වෙන දේවල්. එතොකට ඒ නිසා බුදුරජාණන් වහන්සේ දකින දේවල්, බුදුරජාණන් වහන්සේ දකිනවා සමහර අය යන පාර කරන පව් වැඩත් එක්ක මෙයා නම් ගියාට පස්සෙ නිරයට වැටෙන්නෙ. අඟුරු පිරුණු පාරක යනවා. ගිය ගමන් අඟුරු ගොඩට වැටෙනවා. බුදුරජාණන් වහන්සේ පස්සෙ කාලෙක දකිනවා එයා නිරයේ වැටිලා. ඊළඟට අශූචි පිරුණු පාරක යනවා වගේ තමයි තිරිසන් ලෝකයේ තිරිසන් සතෙක් වෙන්න කරන පව් කරන මිනිස්සු. ඉතින් බුදුරජාණන් වහන්සේ දකිනවා මෙයා මේ විදියට කලොත් නම් තිරිසන් ලෝකෙ යන්නෙ. අර අශූචි වැටුනු පාරෙ යන කෙනා අශූචි වලට වැටෙනවා වාගේ. ඒ යන පාරවල් බුදුරජාණන් වහන්සේ දකිනවා. දෙව්ලොව යන්නේ මොන පාරෙන් ද, බ්‍රහ්ම ලෝකෙ යන්නෙ මොන පාරෙන්ද, නිවන් දකින්නේ කොයි පාරෙන් ද කියලා පාරවල් දකිනවා. ඒකයි බුදුරජාණන් වහන්සේ වදාළේ වචන දෙකේ අය මැරුණට පස්සෙ දිව දෙකක් තියෙන සත්තු අතර උපදිනවා කියලා. දිව පිනවන්න පව් කරපු අය මැරුණට පස්සෙ අශූචි කන සත්තු අතර උපදිනවා කියලා. බුදුරජාණන් වහන්සේ පාර දන්නවානෙ. ඊළඟට මේ ලෝකෙ යම්තාක් නිරයවල් එකසිය තිස් හයක් තියෙනවා නම් එකසිය තිස් හයටම වැටෙන පාරවල් ටික බුදුරජාණන් වහන්සේ දන්නවා. ඒ පාරවල් ටික දන්නවා. තිරිසන් ලෝකෙ සත්තු කෝටි ප්‍රකෝටි ගාණක් ඉන්නවා නම් බල්ලෙක් වෙන්නේ කොහොමද, පූසෙක් වෙන්නෙ කොහොමද, ගැඩවිලෙක්, පණුවෙක්, කෘමියෙක්, ඒ හැම උපතකටම පාරවල් ක්‍රියාවල් දන්නවා. ප්‍රේත ලෝක සෑම උප්පත්තියකටම හේතු බුදුරජාණන් වහන්සේ පේතවත්ථුව සම්පූර්ණයෙන්ම දේශනා කළේ. මේ මේ කර්ම, ලක්ඛණසංයුත්තයේ මේ මේ කර්ම කරලා එහෙම ඉපදුනේ කියලා. දිව්‍යලෝකෙ යන වැඩපිළිවෙල, නිවනට තියෙන වැඩපිළිවෙල, ඒ ඔක්කෝම බුදුරජාණන් වහන්සේ මාවතවල් ටික දන්නවා. එතකොට මේ කාලය අනුව පින්වතුනි අපි මේ කතාබහ කළේ. සෑම උපතකටම සෑම ජීවිතයකටම යන මාවත

බුදුරජාණන් වහන්සේ දන්නවා, යන විදිය. එතකොට බුදුරජාණන් වහන්සේ එක බණ පදයක් දේශනා කරනකොට ඒකෙ ඒ ඥාණය තියෙනවා මේ බුදුරජාණන් වහන්සේ දේශනා කලා නම් සරණේ පිහිටන්න, ශ්‍රද්ධාව ඕන නිවන් මාර්ගයට කියලා. බුදුරජාණන් වහන්සේයි දන්නෙ මේ ශ්‍රද්ධාව උපකාරී වෙනවා නිවන් මාර්ගයට කියලා. ඒක දසබල ඥාණ තුළ පිහිටලා, නෑ නෑ ඔය බුදුගුණ කියලා හරියන්නෑ මේක ගැඹුරින් කල්පනා කරන්න ඕන, එතකොටයි නිවන් දකින්නෙ කීවොත් ඒක එයාගෙ ඥාණය. මේ බුදුරජාණන් වහන්සේගේ ඥාණය. අපි පහදින්න ඕන කාගෙ ඥාණයට ද? ඒ නිසා මේ දසබල ඥාණ වලින් අද ඥාණ තුනක් කතා කලේ. පළවෙනි එක තමයි ඨානාඨාන ඥාණය. සිදුවිය හැකි දේ නොහැකි දේ බුදුරජාණන් වහන්සේ දන්නවා. දෙවෙනි එක තමයි කර්ම විපාක පිළිබඳව ඥාණය. අතීත, අනාගත, වර්තමාන සියලු කර්ම විපාක දෙන තැන් වශයෙන්, හේතු වශයෙන් බුදුරජාණන් වහන්සේ දන්නවා. තුන්වෙනි එක තමයි සබ්බත්ථගාමිනී පටිපදා ඥාණය. සියලුම ජීවිත වලට යන වැඩපිළිවෙල බුදුරජාණන් වහන්සේ දන්නවා. සියලුම ප්‍රතිපදා බුදුරජාණන් වහන්සේ දන්නවා. එතකොට මේ ඥාණය තුළ පිහිටලා තමයි බුදුරජාණන් වහන්සේ ආසභන්ඨානං පටිජානාති, භය නැතිව කතා කරන්නෙ. පරිසාසු සිහනාදං නාදති, පිරිස් මැද සිංහනාද කරන්නෙ. ධර්මචක්කං පවත්තේති, උතුම් වූ ධර්ම චක්‍රය ප්‍රවර්තනය කරන්නෙ. සෑම වචනයක්ම දසබල ඥාණ තුළ තියෙනවා. දසබලධාරී වූ අපගේ පරම පූජනීය වූ උත්තම ශාස්තෘන් වහන්සේ සරණ යන්න. මුළු හදවතින්ම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් තිසරණය ඔබට අමා මහා නිවන ලබාදෙත්වා. ඉතින් ඒක තමයි අපගේ ඒ උතුම් ප්‍රාර්ථනය පින්වතුනි.

ඉතින් අද දවසේ උතුම් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා කොරියාවේ රැකියාවේ නියුතු පින්වත් ජී.එන්. අමිත් ප්‍රසන්න සුමනදාස මහත්මයා සහ ජී.එන්. ජනිත් ප්‍රසන්න සුමනදාස මහත්මයා තමයි දායක වුනේ. ඉතින් මේ පින්වතුන් අප්‍රමාණ පිනක් රැස් කරගත්තා. ඒ නිසා මේ පින් බලයෙන්, දසබලධාරී වූ තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ඒ ඥාණබල වල ආනුභාව බලයෙන් සත්‍යානුභාව බලයෙන් මෙරටටත්, ලෝකයටත්, ව්‍යසනයක් වුනු මේ වසංගතය දුරින්ම දුරු වෙලා, මානව වර්ගයාට සියලු යහපත, බියසැක සංකා දුරු වේවා. සියලු දෙනාට නිදුක් නිරෝගී සුව සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඊළඟට අපි රැස් කරගත්ත සියලුම පින්, පින් කැමැති

දෙවිවරුන්ට අනුමෝදන් වේවා, අනුමෝදන් වේවා. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී මේ පින්වතුන් දැහැමින් රැකගනිත්වා. මේ ගෞතම සසුනේ දියුණුව පිණිස කටයුතු කරත්වා. මේ ලෝක ව්‍යසනය දුරු කරන්න දෙවිවරුද මැදිහත් වෙත්වා කියලා දෙවියන්ට පින් අනුමෝදන් කරමු. මියපරලොව ගිය වරලියන්සිංඤෝ සීයාට, ඊ.පී. ජේන්නෝනා කිරිඅම්මාට, ජී.එන්. අගෝසිංඤෝ ආතාට, කේ.ජී.කේ. ලුසිනෝනා කිරිඅම්මාට, ඒ වගේම ටෙරන්ස් ප්‍රදීප් කුමාර මල්ලීට සහ බී.එම්. නන්දසේන මාමාට පින් අනුමෝදන් කරනවා අද මේ රැස් කරගත්ත අප්‍රමාණ පින් බලයෙන් ඔවුන් පරලොව සැපයට පත්වේවා, දුකින් නිදහස් වෙත්වා කියලා පින් පමුණුවමු. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා අපි මේ ධර්මය මේ විදියට කතා කරන්නෙ. ඉතින් දසබල ඥාණ ගැන හාහාපුරා කියලා අපේ සවන්පත් වලට වැටුනේ පින්වත් ලොකුස්වාමීන් වහන්සේගෙන් ධර්මය අහනකොට. ඒ නිසා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම ස්වාමීන් වහන්සේලාට, අනගාරිකා මෑණිවරුන්ට, සියලු දෙනාට පැවිදි අපේක්ෂක දූපුතුන්ට, දසබලධාරී තථාගතයන් වහන්සේගේ ධර්මය අවබෝධ කරන්න වාසනාව ලැබේවා. ඒ වගේම පින්වත් ජී.එන්. අමිත් ප්‍රසන්න සුමනදාස මහත්මයාටත්, ජී.එන්. ජනිත් ප්‍රසන්න සුමනදාස මහත්මයාටත් ඒ වගේම සුජීවත්ව සිටින ජී.එම්. සුමනදාස පියාණන්ට, පී.එම්. ඉන්ද්‍රා පත්මිණී මෑණියන්ට, ඒ වගේම වේයන්ගොඩ පදිංචි කේ.ඒ. ශ්‍යාමලී රත්නායක මහත්මිය ඇතුලු පවුලේ සැමට මේ පින් අනුමෝදන් වේවා, ඒ සියලු දෙනා නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තියම ලැබෙත්වා. ඒ වාගේම දසබලධාරී තථාගතයන් වහන්සේ වදාළ ධර්මය කෙරෙහි සිත පහදවාගෙන දසබලධාරී තථාගතයන් වහන්සේ ගැන සිත පහදවාගෙන, ඒ දහම් මග දියුණු කරපු ආර්ය සංඝයා ගැන හිත පහදවාගෙන ගෞතම සසුනේ පිහිට ගන්න ඔබට වාසනාව ලැබේවා. ඒ වගේම මේ ධර්මය ඇසූ ඔබටත් ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන් විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාටත්, මව් දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන්ටත් අපි කාටත් ගෞතම බුද්ධ ශාසනයේ උතුම් චතුරාර්ය සත්‍යය අවබෝධ කරගන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=po_T7XLI8yQ&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=30

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන අපි මේ ඉගෙන ගනිමින් පවතින්නේ තථාගතයන් වහන්සේගේ තථාගත දසබල. ඉතින් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නේ ජර්මනියේ ෆ්‍රැන්ක්ෆර්ට් නගරයේ මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ පින්වත් පිරිස විසින්. සියලු දෙනාට යහපත පිණිස, සංඝයාටත් ආශිර්වාද කරලා ඒ ඇත්තෝ මේ ධර්ම දානය සඳහා දායකත්වය දරනවා. බුදු කෙනෙක්ගේ ධර්මය දේශනා කරන්න දායක වෙනවා කියන එක සුලු දෙයක් නෙවෙයි. දැන් ඔබට අපි ධර්ම දේශනා කරන එක ගැන සමහර වෙලාවට ඔබ සතුටු වෙනවා අනුමෝදන් වෙනවා. ඔබ දන්නවාද විපස්සී බුදුරජාණන් වහන්සේගේ කාලයේ බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ කියමින් එක්තරා මානවකයෙක් විපස්සී බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පයින් ඇවිද ඇවිද බුදුගුණ කිය කිය යනවා. ඉතින් විපස්සී බුදුරජාණන් වහන්සේගේ පියාණන් ඒ රටේ රජ්ජුරුවෝ. ඒ මානවකයා ගැන අහලා කරත්තයක් එව්වා, උඹ කරත්තේ ගිහිල්ලා බණ කියාපන්. ඇයි ඒ, ධර්ම දේශනාවට අනුග්‍රහයක්නේ දැක්වූවෙ. ඊටපස්සෙ කරත්තෙනුත් බණ කිය කියා ගියා. ඊළඟට ආරංචි වෙලා අස්පයෙක් යැව්වා. දැන් අනුග්‍රහයනෙ කලේ ගොඩාක් බණ කියන්න. ඊළඟට ඇතෙක් යැව්වා. එතකොට මිනිස්සු ඔක්කෝම

එකතු වෙනවා. එතකොට කියනවා බුදුගුණ. එතකොට ඒ බුදුගුණ කියපු කෙනා තමයි සංතත ඇමති වෙලා ඇතා පිටම අර්හත්වයට පත්වුනේ. ඒ වුනාට අපි නොදන්න කාරණාව තමයි ඒ ධර්ම දේශනාවට අනුග්‍රහය දක්වපු රජ්ජුරුවෝ ඒ ජීවිතේම අර්හත්වයට පත්වුනා, විපස්සී බුද්ධ ශාසනයේම. බණ කියපු කෙනා අපේ බුද්ධ ශාසනේ. ඉතින් ඒ නිසා පින්වල ඒ වාගේ දේවල් තියෙනවා. ඒ නිසා ධර්ම දේශනාවට දායකත්වය දැරීම ගැන සතුටු වෙන්න මං ඒ කරුණ කිව්වෙ. ඉතින් දසබල ඥාණ ගැන අපි කතා කරමින් සිටින්නේ අපි සරණ ගිය සම්මා සම්බුදුරජාණන් වහන්සේ තුන් ලෝකයේම, ඇත්තටම පින්වතුනි, බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ ගැන හිතනකොටම සරණ යන එකම ඇති කියලා හිතෙන තරම් ගුණ කඳ. ඇයි මේ ලෝකෙ කිසි කෙනෙකුට ලැබෙන් නැති අවස්ථාවක්නෙ පින්වතුනි. වෙන කිසිම ආගමක, වෙන කිසිම ශාස්තෘන් වහන්සේ නමක් මෙතරම් ගුණ කඳක් නෑනෙ. මේ ලෝකයේ ආගම් වල ඉන්න සියලුම නායකයන්ගේ ගුණ ටික අරන් එකතුකළොත් මහමෙරක් ළඟ වැලිකැටයක්වත් නැති තරම්. අපේ භාග්‍යවතුන් වහන්සේගේ ගුණ කඳ. ඉතින් ඒ නිසා භාග්‍යවතුන් වහන්සේගේ ශරීර ශක්තියත් තියෙනවා. ඒකට කාය බල, දැන් මේ දසබල කියන්නෙ ධර්ම බලයනෙ. කාය බල ගැන මං පොඩි විස්තරයක් කරන්නම්. සාමාන්‍යයෙන් පින්වතුනි මේ ලෝකයේ ඇත්තු වර්ග ඉන්නවා. සාමාන්‍යයෙන් මිනිස්සුන්ට නිතර නිතර දකින්නට ලැබෙන්නෙ කුලාවක කියන මහා හස්තිරාජයා. එතකොට හොඳට සවිශක්තිය තියෙන මිනිස්සු දහ දෙනෙක්ගේ හයිය සාමාන්‍යයෙන් කුලාවක කියන ඇත්තුන්ට තියෙනවා. කුලාවක ඇත්තු දහදෙනෙක්ගේ බලය ගංගෙයිය කියන හස්තියාට තියෙනවා. ගංගෙයිය කියන හස්තීන් දහ දෙනෙක්ගේ බලය පණ්ඩර කියන හස්තීන්ට තියෙනවා. පණ්ඩර කියන හස්තීන් දහ දෙනෙක්ගේ බලය තම්බ හස්තීන්ට තියෙනවා. එක හස්තියෙකුට. ඒ තම්බ හස්තීන් දහ දෙනෙකුගේ බලය පිංගල කියන එක ඇතෙකුට තියෙනවා. පිංගල ඇත්තු දහ දෙනෙක්ගේ බලය දණ්ඩ කියන එක ඇතෙකුට තියෙනවා. දණ්ඩ කියන ඇත්තු දහ දෙනෙක්ගේ බලය මංගල කියන හස්තිරාජයාට තියෙනවා. මංගල කියන හස්ති රාජයන් දහ දෙනෙක්ගේ බලය හේමවත, නැත්නම් හේම කියන හස්තීන්ට තියෙනවා. හේමන්ත කියලා. ඊළඟට හේම හස්තීන් දහ දෙනෙක්ගේ බලය උපෝසථ ඇතෙකුට තියෙනවා. උපෝසථ ඇත්තු දහ දෙනෙක්ගේ බලය සද්දන්ත හස්තීන්ට තියෙනවා. එක හස්තියෙකුට. සද්දන්ත හස්තීන් දහ දෙනෙක්ගේ බලය බුදුරජාණන් වහන්සේට තියෙනවා, කාය බලය. ඕක ගණන්

හදලා බැලුවට පස්සේ සාමාන්‍ය ඇත්තු කෝටි දහයකගේ බලය තියෙනවා. සාමාන්‍ය ඇත්තු කෝටි දහයකගේ බලය බුදුරජාණන් වහන්සේට කායික බලය තියෙනවා. ඒ නිසයි එක මුංඇටයක් වැළඳුවත් ඉන්න පුලුවන්නෙ. ඊටපස්සේ පුරුෂයො ගත්තොත් හොදට සවිශක්තිය තියෙන පුරුෂයො කෝටි දසදහසකගේ බලය තියෙනවා. මිනිස්සු ඉන්නෙත් කෝටි හත්සීයයි. කෝටි දසදහසකගේ කාය බලය තියෙනවා. ඕකට කියනවා නාරායන සංගාත බලය කියලා. දැන් මේ ලෝකෙ ඔක්කොම එකතු වෙලා එක පැත්තක් වෙලා භාග්‍යවතුන් වහන්සේ එක පැත්තක නම් පොඩ්ඩක් පිම්බත් විසිවෙලා යනවා. ඔය කාය බලය. කාය බලය පසෙක තැබ්බෙවා, භාග්‍යවතුන් වහන්සේගේ දසබල. අපි ඒ දසබල ඥාණ තුළ පිහිටලා තමයි බුදුරජාණන් වහන්සේ සෑම බණ පදයක්ම, කරණීය මෙත්ත සූත්‍රය වුනත්, මහාමංගල සූත්‍රය වුනත්, ඊළඟට අංගුලිමාල පිරිත වුනත්, රතන සූත්‍රය දසබල ඥාණ තුළ පිහිටලා දේශනා කරන්නෙ. ගාථාවක් වුනත් මනෝ පුබ්බංගමා ධම්මා මනෝසෙට්ඨා මනෝමයා මනසාචේ පසන්නේන භාසතී වා කරෝති වා තථෝනං සුඛමං හෝති ඡායාව අනපායිනි, ඒ ගාථාව කිව්වත්, වයධම්මා සංඛාරා උප්පාද වයධම්මිනො උප්පජ්ජිත්වා නිරුජ්ඣන්ති තේසං උපසමුංසුකෝ, කට්ටිය දන්න ගාථා. ඒ ඔක්කෝම දසබල ඥාණ තුළ පිහිටලා දේශනා කලේ. අපි කියමු බුදුගුණ. ඉතිපි සෝ භගවා අරහං සම්මා සම්බුද්ධෝ විජ්ජාචරන සම්පන්නෝ සුගතෝ ලෝකවිදූ අනුත්තරෝ පුරිසදම්ම සාරථී සත්තා දේවමනුස්සානං බුද්ධෝ භගවා තී, මේ ගාථාව බුදුරජාණන් වහන්සේ වදාළේ දසබළ ඥාණ තුළ පිහිටලා. පළවෙනි ඥාණ බලය තමයි සිදුවිය හැකි දේ සිදුවිය හැකි දේ වශයෙන් දන්නා ඥාණය. ඨානාඨාන ඥාණය. එතකොට බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරනකොට මේකෙන් මේක සිදු වෙනවාද, සිදු නොවෙනවාද කියන එක බුදුරජාණන් වහන්සේ දන්නවා. සිදුවිය නොහැකි දෙයක්, කරන්න බැරි දෙයක් බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නේ නැත. ඒ වගේම සිදුවිය නොහැකි දෙයක් බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නේ නැත. සිදුවිය හැකි දේ, කළ හැකි දේ බුදුරජාණන් වහන්සේ දේශනා කරන සේක. මොකද ඒ වචනය එන්නේම බුදුරජාණන් වහන්සේගේ දසබල ඥාණ තුළ පිහිටලා, පස්සේ වෙනස් කිරිලි නෑ. මේ ආර්ය මාර්ගයේ. එතකොට මීට කලින් වැඩසටහනේ අපි ඒවා විස්තර වශයෙන් කතා කලා. දෙවෙනි ඥාණ බලය තමයි අතීත, අනාගත, වර්තමාන කර්ම විපාක දෙන හේතු වශයෙන්, තැන් වශයෙන් ඒ හැම එකක්ම බුදුරජාණන් වහන්සේ දන්නවා. එතකොට කර්ම විපාක පිළිබඳව බුදුරජාණන්

වහන්සේට තියෙන ඥාණය. එතකොට බුදුරජාණන් වහන්සේ දන්නවා මේවා මේ ජීවිතයේ විපාක දෙන කර්ම ද, ඊළඟ ජීවිතයේ විපාක දෙන කර්ම ද, සසරේම විපාක දෙන ඒවාද, බුදුරජාණන් වහන්සේ දන්නවා. ඊළඟට ඒ කර්ම විපාක ඥාණය හරි පුදුමයි. එක එක කර්ම එන හැටි. වචනයක් ප්‍රකාශ කලොත් ඒ කර්මයේ විපාක භාග්‍යවතුන් වහන්සේ දන්නවා. ඊළඟට මේ පුද්ලයන්ගේ වෙනස්කම් බුදුරජාණන් වහන්සේ දන්නවා. ලෝසක වෙලා හිඟා කකා ඉන්න අය මේ රහත් වෙන්න පින තියෙන අය භාග්‍යවතුන් වහන්සේ දන්නවා කර්මය. මේ සසරේ රහතන් වහන්සේලාට දානය වළක්වපු විපාකය කියලා. ඉතින් ඒ නිසා කර්ම විපාක ඥාණය. ඊළඟට තුන්වෙනි ඥාණය තමයි සබ්බත්ථගාමිණී පටිපදං යථාභූතං පජානාති, සියලූම උපත් සඳහා, සියලුම ජීවිත සඳහා යන්න ඕන මාර්ගය ප්‍රතිපදාව බුදුරජාණන් වහන්සේ දන්නවා. ඒකට මම කිව්වා අපායවල් එකසිය තිස් හය, සතර අපාය, දිව්‍යලෝක හය, බ්‍රහ්ම ලෝක, මේ සෑම ලෝකෙකටම සියලුම ලෝක සන්නිපාත වල උපදින්න වැඩපිළිවෙල දන්නවා බුදුරජාණන් වහන්සේ. අමා මහ නිවන පිණිස තියෙන වැඩපිළිවෙල බුදුරජාණන් වහන්සේ දන්නවා. බුදුරජාණන් වහන්සේ වදාළා, නිතර නිතර කාරණා පහක් හිතන්න කියලා. ඒ තමයි මම වයසට යනවා, වයසට යන ස්වභාවය ඉක්මවලා නෑ. ලෙඩ වෙනවා, ලෙඩ වෙන ස්වභාවය ඉක්මවලා නෑ. මරණයට පත්වෙනවා, මරණයට පත්වෙන ස්වභාවය ඉක්මවලා නෑ. මම ප්‍රියයන්ගෙන් වෙන්වෙනවා, ප්‍රියයන්ගෙන් වෙන්වෙන ස්වභාවය ඉක්මවලා නෑ. මම කර්මය දායාද කරගෙන ඉන්නේ, ඒ ස්වභාවය ඉක්මවලා නෑ කියලා නිතර නිතර ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ ගිහියෙක් හෝ පැවිද්දෙක් හෝ නිතර නිතර හිත හිතා ඉන්න කිව්වා. ඒ නිතර නිතර හිතනකොට එයාගේ හිත ඒ තුළම පිහිටලා මාර්ගය උපදිනවා කිව්වා. මග්ගං සංජානාති, මාර්ගය දැනගන්නවා. තං මග්ගං පාරේතී, ඒ මාර්ගය වඩනවා. අමා මහ නිවනට පත්වෙනවා. මේ කාරණා පහ හිත හිතා ඉන්න කිව්වා. එහෙනම් අපිට නිවන උපදින්නැත්තේ, නිවන් මාර්ගය අපිට වැහිලා තියෙන්නේ අපි මේ කාරණා පහ නිතර හිතන් නෑ. එතකොට ඒක පොඩි දෙයක් වගේනෙ අපිට හිතෙන්නෙ. දැන් මේ ලෝකෙ මිනිස්සුන්ගේ මොළය වැඩියිනෙ. එතකොට මේ නිවන් දකින්න කියලා අපි මේ කාරණා පහ තියෙන ඨාන සූත්‍රයේ තියෙන කාරණා පහ කිව්වොත් ඔය පොඩි දේවල්නෙ. ශ්‍රද්ධාව උපදවාගන්න මේ කාරණා පහ බුදුරජාණන් වහන්සේ වදාළේ දසබල ඥාණ තුළ පිහිටලා. අනෙත් එක නිවන් මාර්ගය බුදුරජාණන් වහන්සේටයි වැටහෙන්නෙ. සබ්බත්ථගාමිණී පටිපදා

ඥාණය බුදුරජාණන් වහන්සේට තියෙන්නෙ. ඒ තුන්වෙනි ඥාණය. පළවෙනි එක සිදුවිය හැකි දේ හැකි විදියටත් දකින එක, නොහැකි දේ නොහැකි විදියටත් දකින එක ඊළඟට කර්ම විපාක පිළිබඳව තියෙන ඥාණය, ඊළඟට සියලූම උපත් ගැන ඒ කියන්නෙ සියලූම ප්‍රතිපදා ගැන තියෙන ඥාණය, ඕනම උපතකට ඕනම ස්ථානයකට, ඕනම තැනකට, ඕනම ඥාණයක් පිණිස තියෙන ප්‍රතිපදාව දන්නවා. සබ්බත්ථ ගාමිණී ප්‍රතිපදාව, සියල්ල සඳහා යැමේ ප්‍රතිපදාව බුදුරජාණන් වහන්සේ දන්නවා. ඊළඟ ඥාණය තමයි අද අපි කතා කරන ඥාණය, අනේකධාතු නානාධාතු ඥාණය. ඒ කියන්නෙ මෙහෙමයි, බුදුරජාණන් වහන්සේ මේ ඥාණ සිහනාද සූත්‍රයේ සාරිපුත්ත මහරහතන් වහන්සේට විග්‍රහ කලා. බුදුරජාණන් වහන්සේ වදාළා, පුනචපරං සාරිපුත්ත තථාගතෝ අනේකධාතු නානාධාතු යථාභූතං පජානාති. අනේකධාතු නනාධාතුලෝකා, බුදුරජාණන් වහන්සේ අනේකධාතු නානාධාතු ස්වභාවය ඒ ආකාරයෙන්ම දන්නවා. ඒ කියන්නෙ මේ ලෝකයේ පින්වතුනි ධාතු ස්වභාවයක් තියෙනවා. දැන් බුදුරජාණන් වහන්සේ අවබෝධ කරපු ධර්මයට කියනවා ධර්ම ධාතුව කියලා. එතකොට ඒ ධර්ම ධාතුව කියන්නෙ ඒ බුදුරජාණන් වහන්සේ අවබෝධ කරපු දෙයින් භාග්‍යවතුන් වහන්සේ කිසි තැනක පැකිලෙන් නෑ. ඕනම ප්‍රශ්නයක් ඕනම දෙයක් ඇහුවොත් බුදුරජාණන් වහන්සේට ඒකට උත්තරය තියෙනවා. කලින් හදාගෙන තියාගත් නෑ. දැන් බෝධිරාජ කුමාරයා අහනවානෙ බුදුරජාණන් වහන්සේ කලින් ඔය ප්‍රශ්න වලට උත්තර හදාගෙන ද ඉන්නෙ කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඔයා වාහන හදන කෙනෙක් නේද, ඔව් කියලා කිව්වා. හොඳට හදනවා කිව්වා. එහෙනම් ඔය වාහනේක කෑල්ලක් ගැන කවුරුහරි අහන්න ආවොත් ඔයා උත්තරේ කලින් හදාගෙනද ඉන්නෙ? නෑ ස්වාමීනී මං මේවා ගැන දන්නවානෙ. ආන්න ඒ වාගේ තමයි තථාගතයන් වහන්සේ කලින් උත්තර හදාගෙන තියාගන්නෑ, තථාගතයන් වහන්සේ ධර්ම ධාතුව අවබෝධ කලා. ඒ නිසා යම්කිසි, ඕනම කෙනෙක් ඇහුවොත් ඒකට උත්තරේ ප්‍රතිභාණය වෙනවා, භාග්‍යවතුන් වහන්සේ ඒ වෙලාවෙ කියනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා, චක්ඛුධාතු සෝතධාතු, ඝාණ ධාතු, ජිව්හා ධාතු, කාය ධාතු, මනෝ ධාතු කියලා මේ ආයතන හයේ ධාතු ස්වභාවයක්. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා රූප, වේදනා, සංඥා, සංස්කාර, විඤ්ඤාණ කියන පංචුපාදානස්කන්ධය ධාතු ස්වභාවයන්. ඊළඟට අපිට ඇස් කන් වලට පේන ඒවා, රූප, ශබ්ද, ගන්ධ, රස, පහස, අරමුණු. මේවා ධාතු ස්වභාවයන්. ඊළඟට පඨවි ධාතු, ආපෝ ධාතු,

වායෝ ධාතු, තේජෝ ධාතු, අවකාශ ධාතු, විඤ්ඤාණ ධාතු, ධාතු ස්වභාවයන්. එතකොට මේ ලෝකයේ තියෙන ධාතු ස්වභාවය භාග්‍යවතුන් වහන්සේට අවබෝධ වෙලා තියෙන්නෙ මෙහෙම ස්වභාවයක් තියෙන්නේ කියලා. බුදුරජාණන් වහන්සේ ඒවා දැනගෙන ධර්මය දේශනා කරන්නෙ. අපිට තේරෙනවද මිනිස්සුන්ගේ ධාතු ස්වභාවවල්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ, ඒ ධාතු ස්වභාව අනුව තමයි පින්වත්නි, සමහර අයට ලාමක දෙයක්මයි හිතෙන්නෙ, ධාතු ස්වභාවය. කතා කලොත් ලාමක දෙයක්මයි කතා කරන්නෙ. ධාතු ස්වභාවය. ඊටපස්සෙ එයාට සෙට්වෙන යාළුවොත් ඒ වගේ, ඇයි ඒ? ධාතු ස්වභාවය. උතුම් දේවල් වලට හිත නැමෙන්නෙම නෑ, සමහර අයට නෙක්ඛම්මය. හොඳට ධාතු ස්වභාවය. එයාට ධර්මයටම ආසා හිතෙනවා. ධාතු ස්වභාවය. ඊළඟට බණක් අහන්නෙම නෑ සමහර අය, කණේ බණ තිබ්බත් නෑ. එයාට ඒක වැඩ කරන්නෑ, ඒක ඇතුලෙ නෑ ධාතු ස්වභාවය. ඉතින් ඒ නිසා පින්වතුනි බුදුරජාණන් වහන්සේට තමයි මේ ධාතු ස්වභාවය කියන එක තේරෙන්නෙ. අනේකධාතු, නානාධාතු. බුදුරජාණන් වහන්සේට බ්‍රහ්මයන්, දෙවියන්, මරුන්, බඹුන් සහිත සක්වල ලෝකය පිළිබඳව අවබෝධයක් තියෙනවාමයි. ඒ නිසා ශාස්තෘන් වහන්සේ දන්නවා මේ ලෝකෙ ධාතු ස්වභාවයක් කියලා එකක් තියෙනවා කියලා. දැන් ඒ ධාතු ස්වභාවය මේ වගේ එකක්. අපි ගමු පින්වත්නි, ඔන්න එකම පොළොව, එකම වතුර, එකම පොහොර. නමුත් බීජයට අනුව නේද ඵලය හටගන්නෙ. එකම තැන හදන සමන් මලෙන් සමන් මල් සුවඳයි, ඊළඟට එකම තැන හදන කොහොඹ ගහෙන් තිත්ත රහයි, එතනම හදන මිදි ගහෙන් මිදි, ඔක්කෝම එන්නේ බීජයට අනුව නේද? ඒවගේ ඇතුලේ තියෙනවා ධාතු ස්වභාවයක්. එතකොට එයාට බාහිර පරිසර සාධකත් එක්ක වැඩෙන්නේ තමන්ගේ ධාතු ස්වභාවය. එතකොට බුදුරජාණන් වහන්සේට ධාතු ස්වභාවය ගැන හැඟීමක් තියෙනවා, අවබෝධයක් තියෙනවා. මේ හීන පුද්ගලයොද, උතුම් පුද්ගලයො ද හැඟීමක් තියෙනවා. දැන් ඒ ධාතු ස්වභාවය කියන්නෙ පින්වතුනි ඔන්න බුදුරජාණන් වහන්සේගේ කාලයේ ප්‍රණීත දානයක් බුදුරජාණන් වහන්සේ ඇතුලු භික්ෂු සංඝයාට ලැබුනා. ඊටපස්සෙ ප්‍රණීත දානෙ භාග්‍යවතුන් වහන්සේ ඇතුලු සංඝයා වළඳලා, ඉතුරු වෙච්ච ඒවා තියෙනවානෙ. ඒ දානෙ පූජා කරපු පිරිස ඉතුරු ටික හිඟන අයට දුන්නා මේ ඉඳුල් කන මිනිස්සුන්ට. මගේ අම්මෝ ඉඳුල් කන මිනිස්සු ඒවා කාලා අර පිඟන් වලට තට්ටු කර කර හොඳ පාටියක් දැම්මා. නටනවා හොඳට කෑවා කියලා. අර හිඟන මිනිස්සු රෙදි පොට්ටනි කරේ

තියාගෙන නටලා ඉන්නවා අමුතු විදියට. ආනන්ද ස්වාමීන් වහන්සේ ඇවිල්ලා කියනවා භාග්‍යවතුන් වහන්ස, ඕන්න හරී සද්දෙ, අර ඉඳුල් කාපු අය නටනවා කියනවා හොඳට කෑම හම්බුනා කියලා. අර දන් වළඳපු සංඝයා තැන් තැන් වල හුදකලාවෙ භාවනා කරනවා කිසි සද්දයක් නෑ. ආනන්ද ඔය සසරේ පුරුද්දක් කිව්වා. අතීතයේ යුද්ධයක් තිබිලා ඒ යුද්ධයේ අශ්ව පන්ති ඔක්කෝටම ඒ යුද්ධෙන් ජයගෙන සතුටු වෙලා ඒ අශ්ව පන්තියට මිදි දුන්නා රජ්ජුරුවෝ, ඒ කියන්නෙ මිදි යුෂ තමයි බොන්න දුන්නෙ. මිදි ගෙනල්ලා මිරිකලා යුෂ ටික තමයි බොන්න දුන්නෙ අශ්වයන්ට. අශ්වයො ඒ ටික බීලා පාඩුවෙ දැන් ඉන්නවා. ඊටපස්සෙ ඔය යුද්ධෙට යනකොට බඩු අදින බූරුවො ඉන්නවානෙ, ඒ බූරුවන්ට දුන්නා අර මිදි මිරිකලා ඉතිරි වෙච්ච හපය. ඒ බූරුවො ටික ඒවා කාලා පුදුම නැටිල්ලක් නැටුවෙ. ආයෙ එතනින් එහා නෑ වගේ. යුද්ධෙ දිනුවා කියලා නැටුවෙ ඒ බූරුවො ටික. අර මිදි යුෂ බීපු අය පාඩුවෙ හිටියා. බුදුරජාණන් වහන්සේ වදාළා එදා ඒ නටපු බූරුවො ටිකම තමයි අර ඉඳුල් කන අය අතරත් ඉපදිලා තියෙන්නෙ. එතකොට මොකක්ද මේ ධාතු ස්වභාවය. සසරේ ස්වභාවය. ඊළඟට මම දැක්කා මොකක්ද, වෙස්සන්තර ජාතකයේ පින්වතුනි වෙස්සන්තර ජාතකයේ මාරාවේශ වෙනවානෙ එක එක්කෙනාට. ජූජක බමුණාට, ඊළඟට අර ජූජක බමුණාගේ බිරිඳට මාරාවේශ වෙනවානෙ. ඒ අයම තමයි දේවදත්ත, චිංචිමානවිකා, බලන්න ඒ ධාතු ස්වභාවය. මන්ත්‍රී දේවියට ආවේශ වුන් නෑ, සඳ මහා රජ්ජුරුවන්ට ආවේශ වුන් නෑ. අර හැටදාහක් ඇමතිවරුන්ට ආවේශ වුන් නෑ. ඒ අය බුදු පිරිස. අර දේවදත්තට, චිංචිමානවිකාවට, ඒ පිරිසටමනෙ ආවේශ වුනේ. ධාතු ස්වභාවය. ඔය බක බ්‍රහ්මයාගේ සිද්ධියේදී, බක බ්‍රහ්මයාට භාග්‍යවතුන් වහන්සේ දහම් දෙසනකොට එක බ්‍රහ්මයෙකුට මාරාවේශයක් වෙනවානෙ. ඒ වෙන්නෙත් එතන - අටුවාවෙ තියෙනවා - දුර්වලම බ්‍රහ්මයාගේ ඇඟට කියනවා ආවෙ. ධාතු ස්වභාවය. පුදුම සහගතයි. ඉතින් ඒ නිසා පින්වතුනි ධාතු ස්වභාවය කියලා එකක් තියෙනවා. එතකොට භාග්‍යවතුන් වහන්සේ තමයි මේකෙ ස්වභාවය දන්නෙ. ධාතු ස්වභාවයක් තියෙනවා කියලා. ඊළඟට ඒ ධාතු ස්වභාවය අනුව තමයි පුද්ගලයෝ එකතු වෙන්නෙ. දැන් අපිට ඒක තව තේරුම් ගන්න පුලුවන් එකක් තමයි සත්තානං නනාදිමුක්තිකතං. ඊළඟට තියෙනවා පස්වෙනි තථාගත බලය. පුනචපරං සාරිපුත්ත තථාගතෝ සත්තානං නානාදිමුක්තිකතං යථාභූතං පජානාති. සත්ත්වයන්ගේ තියෙන නා නා අධිමුක්තිකතාවය බුදුරජාණන් වහන්සේ දකිනවා. ඒ කියන්නේ සත්ත්වයන් තුළ තියෙන වෙනස්කම්. දැන් අර ධාතු ස්වභාවය තියෙනවානෙ.

ධාතු ස්වභාවය අනුව වෙනස්කම් වෙනවා. හීනාධිමුක්තික, ලාමක අදහස් තියෙන අය ඉන්නවා ලෝකෙ. ඊළඟට කල්‍යාණාධිමුක්තික, යහපත් අදහස් තියෙන අය ඉන්නවා. ඒවා වෙන්නෙ අර ධාතු ස්වභාවය අනුව. හොඳ හොඳ එක්ක පෑහෙනවා, නරක නරක එක්ක පෑහෙනවා. මුත්‍රා මුත්‍රා එක්ක පෑහෙනවා, අශුචි අශුචි එක්ක පෑහෙනවා, සුවඳ සුවඳත් එක්ක පැහැදෙනවා, යහපත් දේ යහපත් එක්ක පෑහිලා යනවා. ඒ වගේ පෑහිලා, බණක් අහන්න ආවත් ඒ බණ අහන්න එන අයත් පෑහිලා යන්නෙ තම තමන්ගේ ධාතු ස්වභාවයත් එක්ක. දැක්කද වෙනස්කම්. ඊටපස්සෙ දැන් ඉස්සර භාග්‍යවතුන් වහන්සේ ගිජ්ජකූටයේ දවසක් වැඩ ඉඳිද්දි, භාග්‍යවතුන් වහන්සේ දැක්කා ඒ ගිජ්ජකූටයේ සහ ඒ අවට කඳු වල තැන් තැන්වල සංඝයා සක්මන් කරනවා, භාවනා කරනවා. බුදුරජාණන් වහන්සේ භික්ෂු සංඝයා අමතා වදාළා. පින්වත් මහණෙනි, පේනවද අර ඈත සාරිපුත්තයන් වහන්සේ සමඟ සක්මන් කරනවා. ස්වාමීනී දුටුවා, තවත් භික්ෂූන් දුටුවා. ඊටපස්සේ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පින්වත් මහණෙනි, ඔය සාරිපුත්තත් එක්ක සක්මන් කරන්නේම ප්‍රඥාවන්ත භික්ෂූන්. අර මොග්ගල්ලානත් එකක සක්මන් කරන භික්ෂූන් දුටුවා ද? ඊටපස්සේ කිව්වා එහෙමයි ස්වාමීනී කියලා. ඔය සියලු භික්ෂූන් ඍද්ධිමතුන් කිව්වා. මහා කාශ්‍යපයන් එක්ක සක්මන් කරන භික්ෂූන් දුටුවාද? දුටුවා. ඔය සියලු දෙනා ධෘතාංගධාරී. අනුරුද්ධයන් සමඟ සක්මන් කරන අය දුටුවාද? දුටුවා ස්වාමීනී, ඔය සියලු දෙනා දිව්‍යැස් ලාභීන්. ආනන්දයන් එක්ක සක්මන් කරන අය දුටුවා ද? දුටුවා ස්වාමීනී, ඔය ඔක්කොම බහුශ්‍රැතයි. පින්වත් මහණෙනි, දුටුවාද දේවදත්තත් එක්ක සක්මන් කර කර ඉන්න පිරිසක්. ඔය සියලු දෙනාම පාපී ආශාවන්ගෙන් යුක්තයි කිව්වා. බලන්න කිව්වා හීනාධිමුක්තික අය හීනාධිමුක්තික අයත් එක්ක එකතු වෙන හැටි. උතුම් කල්‍යාණාධිමුක්තික අය කල්‍යාණාධිමුක්තික අයත් එක්ක එකතු වෙන හැටි. හොඳ හොඳත් එක්ක එකතු වෙනවා. නරක නරක අයත් එක්ක එකතු වෙනවා. බුද්ධ කාලෙත් එහෙම වුනා නම් දැනුත් එහෙම තමයි. පන්සලකට ගියත් එකතු වෙනවා නම් කණ්ඩායම් ගමේ අය එක එක අදහස් ඒ අදහස් තියෙන අය. ඒවට එකතු වෙලා යන්නෙ. දැන් සමහර වෙලාවට මහමෙව්නාවටත් එනවා යනවා, ඒ තමයි ඒ ධාතු ස්වභාවයට එකතු වෙන අය විතරයි ඉන්නෙ මේකෙ. ඒ ධාතු ස්වභාවයට එකතු වෙන්නැති අය කොහොමටත් විසිරිලා යනවා. මොකද කරන්නෙ, ඒක ධාතු ස්වභාවයක්. ධර්මයට කැමැති අය ධර්මයට කැමැති පිරිසත් එක්ක එකතු වෙනවානෙ. ඒ නිසා හොඳට තේරුම් ගන්න ධාතු

ස්වභාවය. මේකෙන් තේරුම් ගන්න තමන්ගේ ධාතු ස්වභාවය තේරෙන් නැත්නම් තේරුම් ගන්න හොඳ ක්‍රමයක් කියලා දෙන්නම්. තමන්ගේ යාළුවො ඉන්නවානෙ, කියන්නේම වල් කතා නම්, නරක හැසිරීම් නම් තියෙන්නෙ, ජරා ජීවිත නම් තියෙන්නෙ තමන්ගේ ධාතු ස්වභාවය තේරුම් ගන්න. ඒ වාගේ අය තමන් එක්ක එකතු වුනේ තමන්ගේ ධාතු ස්වභාවය ඒකට පෑහෙන නිසා. තව කට්ටිය ඇවිල්ලා ඔක්කෝම කේලම් ගොඩ ඔක්කෝම එයාගෙ කනේ තියනවා නම් එයා තේරුම් ගන්න එහෙනම් මටත් මේ ධාතු ස්වභාවය ඇති. ඉක්මණට වෙනස් වෙන්න ඕන. මේ ඔක්කෝම නිත්‍ය නෑ. මේ සියල්ල අනිත්‍යයි. ධාතු කියන එක අනිත්‍යය දෙයක්. ධාතු කියන දේ අනිත්‍යය ස්වභාවයෙන් යුක්තයි. වෙනස් වන ස්වභාවයෙන් යුක්තයි. ආත්මීය ස්වභාවයක් නෑ. සියල්ල අනාත්ම ස්වභාවයෙන් යුක්තයි. ඊළඟට තමන්ට කට්ටිය ඔක්කෝම ඇවිල්ලා කේලම් කියනවා නම් එතකොට හිතන්න මම ඒ ධාතු ස්වභාවයෙන් යුක්තයි කියලා. හැබැයි මතක තියාගන්න ධාතු ස්වභාවය නිත්‍ය නෑ, අනිත්‍යයි. ධාතු ස්වභාවය ආත්ම නෑ, අනාත්මයි. ඒ නිසා හේතු සකස් වෙනකොට තමයි ඵලය හැදෙන්නෙ. දැන් අර දේවදත්තත් එක්ක හිටපු පිරිසට එයාලා මහණ වෙන්න ආවෙ නෙක්ඛම්මයක් පුරුදු කරන්න ශාස්තෘන් වහන්සේගේ ශාසනයටනෙ. මොකද දේවදත්ත සෙට් වුනා, පෑහිලා ගියා. දැන් ධර්මය ඉගෙන ගන්න කැමැති අයට ආනන්දයන් වහන්සේ සම්බන්ධ වුනා. ඒ අය හොඳට ධර්මය ඉගෙන ගත්තා. ධූතාංග රකින්න කැමැති අයට කස්සප මහරහතන් වහන්සේ සම්බන්ධ වුනා. ඒ ධාතු ස්වභාවය, ඊටපස්සෙ තමන්ගේ ධාතු ස්වභාවය ප්‍රකට වෙනවා. ඒ නිසා මේක පින්වතුනි තේරුම් ගන්න, හොඳ හොඳ එක්ක එකතු වෙනවා, නරක නරක එක්ක එකතු වෙනවා. මේ ලෝකෙ ස්වභාවයක් ඒක. ඉතින් ඒ නිසා භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ මෙය දන්නා නිසා දකිනා නිසා, බුදුරජාණන් වහන්සේ මේ ධර්මය දේශනා කරන්නෙ සියලු දෙනාටම අවබෝධ වෙන විදියට. මේ ඥාණය තුළ පිහිටලා බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරන්නෙ. නොදැනගෙන නෙවෙයි. දැන් අපි මේ දහම් කාරණාවක් අවවාද අනුශාසනාවක් කිව්වොත් ඔබ කොයි වාගේ මට්ටමක ඉන්නවාද කොහොමද කියලා අපි දන්නෙ නෑ. නමුත් පින්වතුනි, මේ ධර්මය දේශනා කලේ දසබලධාරී තථාගත බුදුරජාණන් වහන්සේ. ඒ නිසා මේ ධර්මය ඔබ කොහේ කොතැනක හිටියත්, මේ ධර්මයේ ප්‍රයෝජනය ඔබට එන්න ඕන. මොකද ඔබ සියලු දෙනාගේම ධාතු ස්වභාවය බුදුරජාණන් වහන්සේ දුටුවා, ඒ නිසා අනේක පරියායෙන් බුදුරජාණන් වහන්සේ දහම් දෙසුවා. එතකොට

එහෙනම් ඒ කාරණාව තේරුම් ගන්න. මේ ඥාණය තුළ පිහිටලා තමයි බුදුරජාණන් වහන්සේ දහම් දේශනා කරන්නෙ. මොකක්ද ඒ ඥාණය. සත්ත්වයන්ගේ නානාධිමුක්තිකතාවය. සත්ත්වයන්ගේ තියෙන වෙනස්කම් බුදුරජාණන් වහන්සේට පේනවා. මේ ඥාණය තුළ පිහිටලා තමයි බුදුරජාණන් වහන්සේ ලෝකයේ ස්වභාවය වර්ග කරන්නෙ. අඹ ගෙඩියක් තියෙනවා පිටින් අමුයි, ඇතුල ඉදිලා. පිටිනුත් අමුයි, ඇතුලෙත් අමුයි. තව අඹ ගෙඩියක් තියෙනවා පිටින් ඉදිලා ඇතුලෙ අමුයි. අඹ ගෙඩියක් තියෙනවා පිටිනුත් ඉදිලා, ඇතුලෙනුත් ඉදිලා. ඒ වගේ සමහර අය ඉන්නවා, ඔහේ ඉන්නවා. ඊළඟට එයාගෙ ලොකු වෙනසක් මොකුත් පේන්න නෑ, ඇතුලෙන් හොඳට නුවණයි. බාහිරින් පේන් නෑ. පිටින් අමුයි, ඇතුල ඉදිලා. සමහර අය පිටින් ඉදිලා හොඳට ගැඹුරුයි වාගේ පේනවා. මහා අවබෝධයක් තියෙනවා කියලා පේනවා. ඇතුලෙන් තොත්ත බබාලා වගේ. අඹගෙඩිය උඩින් ඉදිලා, ඇතුලෙ අමුයි. සමහර අය ඉන්නවා, එයාලගේ ක්‍රියාවත් ඒ වගේ, ජීවිතෙත් ඒ වගේ. එයාලා ඇතුලෙත් අමුයි, පිටත් අමුයි. සමහර අය ඉන්නවා පිටිනුත් ඉදිලා, ඇතුලෙනුත් ඉදිලා. ලෝක ස්වභාවයක්. බුදුරජාණන් වහන්සේ වදාළා සමහර මේ ලෝකෙ ස්වභාවයක් තියෙනවා, වතුරෙ ගිලිලා ඉන්නවා, ගිලිලාමයි උඩට එන් නෑ. එතකොට පව් කරන ජනතාව ඉන්නවා, අකුසලයේමයි ගොඩට ගන්නම බෑ. සමහර අය ඉන්නවා බුදුරජාණන් වහන්සේ වදාළා, වතුරෙන් උඩට එනවා, ඉක්මණට ඇතුලට යනවා. ඒ වාගේ මේ පිනක් කරනවා හොඳක් වෙනවා, ආයෙත් පරණ මට්ටමට වැටෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා වතුරෙන් උඩට ඇවිල්ලා උඩ ඉන්නවා, ගිලෙන්නෙත් නෑ, කොහෙවත් යන්නෙත් නෑ. ඒ වගේ මෙයා මොකද කරන්නෙ? කුසලයට එනවා, ඒ කුසල් ටික සිහි කර කර ඉන්නවා. ඉදිරියට දියුණු කරගන් නෑ. සමහර අය ඉන්නවා, ගොඩට එනවා, වටපිට බලනවා, උත්සාහ කරනවා, දූපත පේනවා. සෝතාපන්නයි. ඊළඟට එයා දූපත කරා පීනනවා, සකදාගාමී අය. දූපතට ළංවෙනවා, අනාගාමී අය. දූපතට ගොඩවෙලා නිදහසේ ඉන්නවා, ඒ රහතන් වහන්සේලා. දැන් ඔය සෑම වර්ගයකම, ස්වභාවයකම අය අපිට මුණගැහෙන් නැතිද? අපි කියනවා කලින් එයා හොඳට බණ ඇහුවා, ඔන්න ආයෙ පරණ මට්ටමට වැටිලා කියලා අපි කියනවා. බුදුරජාණන් වහන්සේ දැක්කානෙ ඒක. ඒ නිසා බුදුරජාණන් වහන්සේ වදාළ දේ සත්‍යයක් කියලා පහදින්න මේකත් කාරණාවක්. සමහර අය කියනවා අනේ මුන් නම් ගොඩ ගන්නම බෑ. මේ බුදුරජාණන් වහන්සේ වදාළානෙ එහෙම පිරිසකුත් ඉන්නවා කියලා. ඉතින් ධර්මයටම පහදින්නකො.

දැක්කද පින්වතුනි, ශාස්තෘන් වහන්සේගේ ශාසනයේ තියෙන වටිනාකම. අපේ හිත මේ ධර්මය ඉගෙන ගත්තොත් හිත ගොඩාක් සන්සිඳවාගන්න පුලුවන්, කම්පා වෙන්නැතිව ඉන්න පුලුවන්. ඒක බුදුරජාණන් වහන්සේගේ සත්ත්වයන්ගේ වෙනස්කම් දැකීමේ ඥාණය. උඩ තිබ්බේ සත්ත්වයන්ගේ ධාතු ස්වභාවය දැකීමේ ඥාණය. එතකොට දැනට අපි ඥාණ පහක් කතා කලා. පළවෙනි එක තමයි ඨානාඨාන ඥාණය. සිදුවිය හැකි දේ හැකි දේ වශයෙනුත්, සිදුවිය නොහැකි දේ නොහැකි දේ වශයෙනුත් දකින ඥාණය. දෙවැනි එක අතීත, අනාගත, වර්තමාන කර්ම විපාක දෙන විදිය තැන් වශයෙන්, හේතු වශයෙන් දකින ඥාණය. තුන්වෙනි එක තමයි සත්ත්වයන්ගේ සියලූම වැඩපිළිවෙලවල් දැකීමේ ඥාණය. සියල්ල පිණිස තියෙන සියලු වැඩපිළිවෙලවල්. සියලු උපත් පිණිස, මාර්ගඵල පිණිස, නිවන පිණිස තියෙන සියලූම වැඩපිළිවෙලවල් පිළිබඳව තියෙන ඥාණය. ඊළඟ හතරවෙනි එක තමයි අපි කතා කලේ ධාතු ස්වභාවය පිළිබඳව තියෙන ඥාණය. ධාතු ස්වභාවවල් දැකීමේ ඥාණය. පස්වෙනි එක තමයි සත්ත්වයන්ගේ වෙනස්කම් පිළිබඳව තියෙන ඥාණය. ඉතින් ඒ නිසා, මේක නිසාම තමයි සමහර අය ලාමක දේවල් කතා කරන්න කැමැති, උතුම් දේවල් කතා කරන්න කැමැති නෑ. ඒ අය එකතු වෙන්නෙත් ඒ වගේ අයටම. මොකද කරන්නෙ, මේ ලෝකෙ එහෙම ස්වභාවයක් තියෙනවානෙ පින්වත්නි. ඊළඟට හයවෙනි ඥාණ බලය තමයි ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය. පුනචපරං සාරිපුත්ත තථාගතෝ පරසත්තානං පරපුග්ගලානං ඉන්ද්‍රිය පරෝපරියත්තං යථාභූතං පජානාති. සාරිපුත්ත තථාගතයන් වහන්සේ අන්‍ය පුද්ගලයන්ගේ, අන්‍ය පුරුෂයන්ගේ ඉන්ද්‍රිය පරෝපරියත්ත පිළිබඳව ඥාණය තියෙනවා. ඒ කියන්නෙ ඒ සත්ත්වයන්ගේ ඉඳුරන් වැඩිලාද, මෝරලාද - ඉඳුරන් කියලා කියන්නෙ මේ ඇස කණ නාසය ඇඟ ඒවා නෙවෙයි, ඉන්ද්‍රිය කියලා කියන්නේ ශ්‍රද්ධා, සති, විරිය, සමාධි, ප්‍රඥා ආදී මේ ගුණ ධර්මයෝ වැඩිලද කියලා බුදුරජාණන් වහන්සේ දන්නවා. ඒ බුදුරජාණන් වහන්සේ දන්නවා ඉන්ද්‍රියන්ගේ තියෙනවා උස්පහත්කම්. මුදු ඉන්ද්‍රිය, තියුණු ඉන්ද්‍රිය, ඒවා ඔක්කෝම බුදුරජාණන් වහන්සේට දකින්න පුලුවන්. ඊළඟට භාග්‍යවතුන් වහන්සේ තියුණු ඉන්ද්‍රිය තියෙන අයට භාග්‍යවතුන් වහන්සේ සංක්ෂිප්තවම ධර්මය දේශනා කරනවා. දැන් අපි ගත්තොත් එහෙම බාහියදාරුචිය. බාහියදාරුචීයට බුදුරජාණන් වහන්සේ දිට්ඨේ දිට්ඨමත්තං භවිස්සති සුතේ සුතමත්තං භවිස්සති මුතේ මුතමත්තං භවිස්සති ආදී වශයෙන් කෙටියෙන්ම ධර්මය දේශනා කලානෙ, අර්හත්වයට පත්වුනානෙ.

එයාට බුදුරජාණන් වහන්සේ බාහියදාරුචීරියට ගණකමොග්ගල්ලාන සූත්‍රය විදියට දේශනා කලේ නෑ. එහෙම නැත්නම් චූලසීල, මහාසීල, මජ්ඣිම සීල ආදී වශයෙන් එහෙම ධර්මය දේශනා කලෙත් නෑ. ඊළඟට සතිපට්ඨාන විග්‍රහයක් කලෙත් නෑ. බුදුරජාණන් වහන්සේ විදර්ශනා කළයුතු කාරණාව දුන්නා. ඉන්ද්‍රිය තියුණුයි. ඉදුරන් තියුණුයි. ඊළඟට අපි ගත්තොත් එහෙම ඒ නිසා බුදුරජාණන් වහන්සේට තේරෙනවා, මේ යටතේ තමයි තියෙන්නෙ ආසයානුසය ඥාණය, කෙලෙස් අඩුයි ද වැඩියි ද කියලා තේරෙන ඥාණය. මේ ඥාණය යටතේ තමයි තියෙන්නෙ බුදුරජාණන් වහන්සේගේ අනාවරණ ඥාණය. කිසි දෙයක් වැහිලා නෑ. මේ ඥාණය යටතේ තමයි බුදුරජාණන් වහන්සේගේ සබ්බඤ්ඤුත ඥාණය තියෙන්නෙ. මේ සියල්ලම බුදුරජාණන් වහන්සේ දකිනවානෙ. මෙයාගෙ සංසාරයේ කරපු පින් ඊළඟට සුනීතව දැක්කෙ. දැන් සුනීත කරපු කර්ම දැක්කෙ බුදුරජාණන් වහන්සේ කර්ම විපාක ඥාණයෙන්. එතකොට සුනීතට ධර්මය අවබෝධ කරන්න හැකියාවක් තියෙනවාද කියලා දන්නෙ බුදුරජාණන් වහන්සේගේ ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණයෙන්. දැන් එක ස්වාමීන් වහන්සේ නමකට භාවනා වැඩෙන්නෙම නෑ. බුදුරජාණන් වහන්සේ ළඟට සාරිපුත්ත මහරහතන් වහන්සේ ඒ භික්ෂුව ගෙන්නගෙන ආවට පස්සෙ බුදුරජාණන් වහන්සේ රන් මලක් දුන්නා. එතකොට ඒ රන්මල දිහා බලාගෙන ඉන්නකොට තමයි අර්හත්වයට පත්වුනේ. දැන් මට කල්පනා වුනා බුදු කෙනෙක් හිටියේ නැත්නම් ඔය භික්ෂූන් වහන්සේට රහත් වෙන්නේ කොහොමද. කවුද දන්නේ මේක මලකින් මේක වෙන්නෙ කියලා. බුදුරජාණන් වහන්සේ දන්නවා එයා අතීතෙ බොහෝ කාලයක රන් කරුවෙක්. රන් වැඩ කර කර හිටපු කෙනෙක්. ඒ වගේම ඔහු නිතර නිතර නෙළුම් මල් පරවෙලා යන එක ගැන හිතලා තියෙනවා සංසාරෙ. ඒ නිසා තමයි රන් නෙළුම් මලක් දුන්නෙ. චුල්ලපන්ථක ස්වාමීන් වහන්සේට බුදු කෙනෙක් හිටියේ නැත්නම් ගෙදර. බුදුරජාණන් වහන්සේ රෙදි කෑල්ලක් මවලා දුන්නෙ, ඇයි බුදුරජාණන් වහන්සේනෙ දන්නෙ මෙයාගෙ ඉන්ද්‍රියන් වැඩෙන්නේ මෙහෙමයි කියලා. දැන් අපේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ රාහුල ස්වාමීන් වහන්සේට වදාළා, රාහුල, මේ රූප, වේදනා, සංඥා, සංකාර, විඤ්ඤාණ කියලා පංචුපාදානස්කන්ධය විදර්ශනා කරමින් වාසය කරන්න කියලා. අතීත, අනාගත, වර්තමාන, ගොරෝසු, සියුම්, හීන, ප්‍රණීත, දුර, ළඟ වශයෙන් එකොළොස් ආකාරයකට මේ පංචුපාදානස්කන්ධය අනිත්‍යයි, දුකයි, වෙනස් වෙනවා, මම නෙවෙයි, මගේ නෙවෙයි, මගේ ආත්මය නෙවෙයි කියලා එය දකිමින් වාසය කරන්න කියනවා.

ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ අවවාදයට අනුව භාවනා කර කර ඉන්නකොට සාරිපුත්ත මහරහතන් වහන්සේනේ ගුරුවරයා. සාරිපුත්ත මහරහතන් වහන්සේ රාහුල ස්වාමීන් වහන්සේ ළඟට පිණ්ඩපාතෙන් පස්සෙ වැඩලා ඇහුවා, රාහුල හොඳට ශරීරය ඍජු කරගෙන භාවනාවෙ ඉන්නවා, බොහෝම සතුටුයි, ආනාපානාසතිය වෙන්න වඩනවා ඇත්තෙ, බොහෝම හොඳයි කිව්වා. එතකොට ආනාපානාසතිය කොහොමද වඩන්නේ කියන එක පිළිබඳව රාහුල ස්වාමීන් වහන්සේට ප්‍රශ්නයක්. රාහුල ස්වාමීන් වහන්සේ බුදුරජාණන් වහන්සේ ළඟට ගිහිල්ලා අහනවා ස්වාමීනී, ආනාපානාසතිය වඩන්නේ කොහොමද? එතකොට බුදුරජාණන් වහන්සේ ධාතු මනසිකාරය, ගොඩාක් භාවනාවල් කියලා දුන්නා රාහුල ස්වාමීන් වහන්සේට. අසුභ භාවනාව ගොඩාක් දේවල් කියලා දුන්නා. අවසානෙට ආනාපානාසතිය හොඳට වැඩෙන විදියට කියලා දුන්නා. දැන් ඒවත් කරනවා. මේ විදියට අනේක ප්‍රකාර, ඊළඟට හිටපු ගමන් බුදුරජාණන් වහන්සේ රාහුල ස්වාමීන් වහන්සේට කියනවා, රාහුල මෙහෙ එන්න, ඇස නිත්‍යද අනිත්‍යයද? අනිත්‍යයි. යමක් අනිත්‍යයි නම් ඒක දුකයි ද, සැපයිද? ස්වාමීනී දුකයි. යමක් අනිත්‍යය නම් දුක නම් වෙනස් වෙනවා නම් ඒක මම, මගේ, මගේ ආත්මය කියලා දකින්න සුදුසුයි ද රාහුල? නෑ ස්වාමීනී එහෙම දකින්න සුදුසු නෑ. ඒ නිසා රාහුල දියුණු කරපු ප්‍රඥාවෙන් දකින්න මේ ඇස මම නොවෙයි, මගේ නොවෙයි, මගේ ආත්මය නොවෙයි කියලා. ඒ විදියට හික්මෙන්න. ඉතින් රාහුල ස්වාමීන් වහන්සේ ඒ විදියට භාවනා කරනවා. සිහි කරනවා. ආයෙ දවසක අහනවා රාහුල මේ කණ නිත්‍ය ද අනිත්‍යය ද? ස්වාමීනී අනිත්‍යයි. එතකොට මේ වාගේ අවුරුදු ගාණක් ගියා. දැන් මේ මොකක්ද දකින්නෙ බුදුරජාණන් වහන්සේ. ඉඳුරන් වල වෙනස. ශ්‍රද්ධා විරිය සති සමාධි ප්‍රඥා ගුණධර්ම වැඩෙන එකේ වෙනස. යම් දවසක බුදුරජාණන් වහන්සේ දුටුවා, රාහුලයන්ගේ ඉඳුරන් මෝරා ඇත. එදාට බුදුරජාණන් වහන්සේ රාහුල මා සමඟ එන්න කියලා මහාවනයට යං කියලා, පත්කඩය අරන් රාහුල ස්වාමීන් වහන්සේ පිටිපස්සෙන් යනවා, අමා නිවනට ගෙන්නගෙන යන්නෙ. වනයේදී පත්කඩය එළලා බුදුරජාණන් වහන්සේට වැන්දා. රාහුල, ඔබ කුමක්ද මේ ගැන හිතන්නේ, ඇස කණ නාසය දිව කය මනස ගැන අනිත්‍යය ස්වභාවය පිළිබඳ ධර්ම දේශනාව කලා. චුල්ලරාහුලෝවාද සූත්‍රය. බුදුරජාණන් වහන්සේ පුත්‍රරත්නය අමා නිවන් දක්වනවා කියලා දෙව්ලොව කෝලහාලයක් ගියා. අසූහාරදහසක් දෙවිවරු පිරිවරාගත්තා. රාහුල ස්වාමීන් වහන්සේ රහත් වෙනකොට අසූහාරදහසක් සෝවාන් වුනා,

එකම ධර්ම දේශනාවෙන්. ඇයි ඒ? රාහුල ස්වාමීන් වහන්සේගේ ඉඳුරන් ගොඩාක් මෝරලා, දෙව්වරුන්ගේ ඉඳුරන් මෝරලා තිබ්බෙ සෝතාපන්න මට්ටමට. එතකොට බුදුරජාණන් වහන්සේ දන්නෙ මේ දේශනාවෙන් මොකක්ද වෙන්නෙ කියලා. දීඝනක බුදුරජාණන් වහන්සේගෙන් ප්‍රශ්නයක් ඇහුවා, ඒකට උත්තරයක් දුන්නා, දීඝනක සෝවාන් වුනා, පවන් සල සලා හිටපු සාරිපුත්තයන් වහන්සේ අර්හත්වයට පත්වුනා. මාගන්ධියා බිසව අරගෙන ආපු වෙලාවෙ මාගන්ධියා මැණියොයි බුදුරජාණන් වහන්සේ ශරීරය ගැන ධර්මය දේශනා කලා අම්මයි තාත්තයි දෙන්නම අනාගාමී වුනා, මාගන්ධියා පරම වෛරක්කාරියක් බවට පත්වුනා. එකම ධර්ම දේශනාවෙන් කොහොමද වෙන්නෙ. ඒ තමයි ඉඳුරන්ගේ මෝරා යෑම. දැන් මේ ධර්ම දේශනාවෙදිනුත් එක්කෙනෙක් පහදිනවා, එක්කෙනෙක් අපහදිනවා, එක්කෙනෙක් රණ්ඩු වෙනවා, එක්කෙනෙක් ඇදයක් හොයනවා, ඇයි මේ? ඉඳුරන් වල තියෙන වෙනස. ඉන්ද්‍රියන්ගේ තියෙන වෙනස. භාග්‍යවතුන් වහන්සේට මේ ඉන්ද්‍රිය ධර්මයන්ගේ අඩු වැඩි බව පේන ඥාණයක් තියෙනවා. ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය. ඒකෙන් තමයි සත්ත්වයන්ගේ කෙලෙස් අඩුයි ද, වැඩියි ද මේ ඔක්කොම දකිනවා. ඊළඟට තියෙන ඉඳුරන් ඒ කියන්නෙ මෘදු විදියට තියෙන ඉන්ද්‍රියන් කොහොමද තියුණු වෙන්නෙ, ඒකට අවශ්‍ය වැඩපිළිවෙල සබ්බත්ථගාමී වැඩපිලිවෙලින් එනවා. ඒ හැම එකක්ම මේ ඥාණයන් තුළ පිහිටලා තියෙන්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේ නිවන් දකින්න මෙයා භව්‍යයි ද, අභව්‍යයි ද? ඒවා දකිනවා. මේ කෙනා නිවන් දකින් සුදුසු ද, නැද්ද? කුසල් කරලා තියෙනවාද, නැද්ද? ඒ වාගේ බුදුරජාණන් වහන්සේ මහා කරුණා සමාපත්තියෙන් බලලා, බලනකොට මේ දසබල ඥාණ තුළත් පිහිටලානෙ ඉන්නෙ. ඔක්කෝම පේනවා. කවද්ද නිවන් දකින්නෙ, ඔක්කෝම පේනවා. දැන් බලන්න බුදුරජාණන් වහන්සේ දැක්කා සාරිපුත්ත මහරහතන් වහන්සේගේ ශිෂ්‍ය නමක් භාවනා කරනවා කුටියේ. සාරිපුත්තයන් වහන්සේ පිණ්ඩපාතෙ අරන් එනවා. බුදුරජාණන් වහන්සේ දැක්කා දැන් සාරිපුත්තයන් දොර ඇරපු ගමන්ම අරයාගේ භාවනාව නැතිවෙනවා. හැබැයි මේ වෙනකොට තමයි හොඳටම ඉඳුරන් මෝරලා තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ සාරිපුත්තයන් වහන්සේයි අර කුටියේ භාවනා කරන භික්ෂූන් වහන්සේයි අතරට යනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ අහනවා මොනවද සාරිපුත්තය ඔය ආහාරය? ඒ ආහාරය කුමක් ප්‍රත්‍යයෙන්ද තියෙන්නෙ කියලා අර ඇතුලෙ කුටියෙ ඇතුලෙ ඉන්න භික්ෂූන් වහන්සේට අවබෝධ වෙන විදියට ප්‍රශ්න

අහනවා. ආශ්චර්යයි, අද්භූතයි ශාස්තෲන් වහන්සේ. මොග්ගල්ලාන තෙරුන් වහන්සේ ඒ වෙනකොට අර්හත්වයට පත්වෙලා නෑ, සමාධිය වඩනවා. සමාධිය වඩනකොට උන්වහන්සේ නිදිකිරා වැටෙනවා. බුදුරජාණන් වහන්සේ ඉදිරියේ පහළ වුනා. මොග්ගල්ලාන මොකද මේ නිදිකිරා වැටි වැටී කිව්වා. නිදිකිරා වැටි වැටී ඉන්නැතිව මේ විදියට නිදිකිරා වැටීම දුරු කරගන්න ක්‍රම විස්තර කරලා ඒවා ප්‍රහාණය කරන්න කිව්වා. පළවෙනි ධ්‍යානය හොඳට මෙහෙම හිත රඳවන්න කිව්වා. ඔන්න පළවෙනි ධ්‍යානයේ හිත රඳවාගෙන ඉන්නවා. භාග්‍යවතුන් වහන්සේ වැඩියා. විටින් විට කාම සංඥා, විතර්ක සංඥා ඇවිල්ලා ආයෙ භාවනාවේ සමාධිය චංචල වෙනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ භාවනාවේ සමාධියට සම්බන්ධ වුනා හිතෙන්. මොග්ගල්ලාන පළවෙනි ධ්‍යානය වරද්දගන්න එපා. ඔන්න හොඳට සමාධිය වඩනවා. දෙවෙනි ධ්‍යානයේත් චංචල වෙනවා. බුදුරජාණන් වහන්සේ සමාධිය තුළින් සම්බන්ධ වුනා. මොග්ගල්ලාන දෙවෙනි ධ්‍යානය වරද්දගන්න එපා. මුගලන් රහතන් වහන්සේ සියලු සමාධි සමාපත්ති ඍද්ධි දියුණු කලේ බුදුරජාණන් වහන්සේගේ අවවාද අනුශාසනා එකින් එක ළඟ ඉඳලා ඉගැන්නුවා. ඒ ඉදුරන් දිහා බල බලා බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ. පුදුම සහගතයි, භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ. මේ ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය. ඊළඟට බුදුරජාණන් වහන්සේගෙන් එනවා එක භික්ෂූන් වහන්සේ, පොඩි නමක්, පොඩි නමට හම්බවෙලා පිරිකරක්. ඒ පිරිකර වෙනුවට හම්බවෙලා කහවණු සීයක්. ඉතින් පොඩි නම ඒක හිත හිතා ඉන්නකොට සිවුරු හරින්න හිතුනා. බුදුරජාණන් වහන්සේ ළඟට ආවා, සිවුරු අරින්න ඕන. ආ ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා, එහෙනම් එන්නකො. ගල් කැට සීයක් ගන්නකො. ගත්තා. දැන් එයා කිව්වා මට කහවණු සීයක් තියෙනවා කියලා. හරි එහෙනම් කහවණු සීයක් ඉණේ තියෙනවා, දැන් ගෙදර ගිය ගමන් ගොවිතැන් කරන්න හරකෙක් ගන්න ඕන. ඒකට කහවණු කීයක් ඕන ද? මෙච්චර ඕන. ගෙයක්, ඉන්න තැනක් හදාගන්න ඕන. කොච්චර ඕනද? මෙච්චර. ඊළඟට නගුලක් ගන්න ඕන, මෙච්චරයි. එහෙම එයාට තියෙන වැඩ ටික කියාගෙන යනකොට කහවණු මදි. ඒ වෙලාවෙම දණ ගහලා කිව්වා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මං මේ ශාසනයේම ඉන්නම් කියලා. අර්හත්වයට පත්වුනා. කොච්චර කරුණාවක් ද? ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය. ඊළඟට බුදුරජාණන් වහන්සේට තියෙනවා. දැන් අපි පින්වතුනි මේවා දවස් ගණන් වරු ගණන් මාස ගණන් විග්‍රහ කරලා කතා කරන්න ඕන දේවල්. නමුත් අපිට මේ කාල වේලාවල් තවත් අපිට බුදුගුණ

ඉගෙන ගන්න එපෑ, මේ බුදු ගුණ බුදු කෙනෙක් කල්පයක් කිව්වත් කල්පෙ ඉවර වෙන් නෑනෙ. අපි සරණ ගිය ශාස්තෘන් වහන්සේ. සත්වෙනි තථාගත බලය තමයි ධ්‍යාන සමාධි සමාපත්ති ඥාණය. එතකොට බුදුරජාණන් වහන්සේගේ ධ්‍යාන සමාධි සමාපත්ති, ඒක පාලියෙන් තියෙන්නෙ මෙහෙමයි. පුනචපරං සාරිපුත්ත තථාගතෝ ධ්‍යාන විමොක්ඛ සමාධි සමාපත්තේනං සංකිලිස්සේනං ඕදානං වුට්ඨානං යථාභූතං පජානාති, බුදුරජාණන් වහන්සේ ධ්‍යාන විමෝක්ෂ සමාධි සමාපත්ති වලට සමවදින හැටි, ඒවගෙන් නැගිටින හැටි, ඒ සමාධි පිරිසිදු කරගන්න හැටි, ඒ සමාධිය කෙලෙසෙන හැටි, ඒ සියල්ල බුදුරජාණන් වහන්සේ දන්නවා. එතකොට සම්පූර්ණ භාවනා විෂය පිළිබඳව, මේ තියෙන්නෙ භාවනා විෂය, සමාධි විෂය, ධ්‍යාන විෂය මේ සියල්ලම දන්නේ දකින්නේ බුදුරජාණන් වහන්සේ. මල තුලින් සමාධිය උපදින හැටි. රෙදි කෑල්ලක් අත ගගා ඉන්නකොට සමාධිය උපදින හැටි. ඒවා දකින්නේ බුදුරජාණන් වහන්සේ. බුද්ධානුස්සතියෙන් සමාධිය උපදින හැටි, ධම්මානුස්සතියෙන් සමාධිය උපදින හැටි, සංඝානුස්සතියෙන් සමාධිය උපදින හැටි දන්නේ බුදුරජාණන් වහන්සේ. ආනාපානාසතිය වඩනකොට ඒ ආනාපානාසතිය තුළ සිත පිහිටවාගෙන ඒ මාර්ගය ඉදිරියට දියුණු කරගන්න හැටි දකින්නේ බුදුරජාණන් වහන්සේ. මේ බුද්ධ ශාසනයේ සුවාසූ දහසක් වූ ධර්මස්කන්ධයේ ධ්‍යාන වඩන හැටි තියෙනවා නම්, ඒ ධ්‍යාන පිරිසිදු කරගන්න හැටි තියෙනවා නම්, සමාපත්ති වලට සමවදින හැටි තියෙනවා නම්, ඒවා පිරිසිදු කරගන්න හැටි තියෙනවා නම්, ඒ වගේම ඒවාගෙන් ඍද්ධි උපදවාගන්න හැටි, විද්‍යාව උපදවාගන්න හැටි තියෙනවා නම්, ඒ සියල්ලම බුදුරජාණන් වහන්සේ දේශනා කලේ මෙන්න මේ තථාගත බලය තුළ පිහිටලා. එතකොට සංයුත්ත නිකාය තුනේ, ධ්‍යාන සංයුත්තය කියලා වෙනම ධ්‍යාන වශීප්‍රාප්ත කරගන්නහැටි ඒවා ඔක්කොම දේශනා කලා. දැන් සාමාන්‍යයෙන් පින්වතුනි මිනිස්සුන්ට තියෙන්නෙ මේ කලබලේනෙ. කලබලේ තිබිලා වැරදුනොත් ආයෙ හරි අමාරුයි සමාධිය උපද්දවගන්න. බුදුරජාණන් වහන්සේ මට මතක හැටියට ගාවීයූපම සූත්‍රය වෙන්න ඕන, ඒ සූත්‍ර දේශනාවෙ බුදුරජාණන් වහන්සේ වදාලා ගවයෙක් කන්දක් මුදුනට ගිහිල්ලා, විෂම තැනකට ගිහිල්ලා මෙයා මොකද කරන්නෙ, නොකෑ තණකොළ කන්න ඕන කියලා ඉස්සරහ කකුල් දෙක උස්සන්නැතිව පිටිපස්සෙ කකුල් දෙක උස්සනවා. එතකොට අර කන්දෙන්, ප්‍රපාතෙන් එයා වැටිලා අඬබඩු කැඩෙනවා. අන්න ඒ වාගේ තමයි සමහර අය කරනවා ලෝකෙ පළවෙනි ධ්‍යානය, සමාධිය හොඳට පුරුදු කරගන්නැතිව, ඒ සමාධි විෂය හුරු කරගන්නැතිව, වශීප්‍රාප්ත

කරගන්නැතිව දෙවෙනි ධ්‍යානයට උත්සාහ කරනවා. එතකොට පළවෙනි ධ්‍යානය හරියට එයාට පිහිටන් නැතුව දෙවෙනි ධ්‍යානයට උත්සාහ කිරීම තුළ පළවෙනි ධ්‍යානය හරියට එයාට කරගන්න බැරිව යනවා. දැක්කද ඒ තියෙන අනතුර. ඒකයි බුදුරජාණන් වහන්සේගේ ධර්මය හොඳට ඉගෙන ගන්න ඕන කියන්නෙ. ගුරුවරුන්ගේ ඇසුර ලබන්න ඕන කියන්නෙ ඒකටයි. ඉතින් ගොඩාක් අයට වරදින්නෙ මේ ශාසනයේ මේ දසබල ඥාණ ගැන තියෙන ශ්‍රද්ධාව මදිකම නිසානෙ. ගුරුවරු නැති නිසානෙ, ධර්මය ඉගෙන ගන්නැති නිසානෙ, ඒ නිසා පින්වතුනි නොවරදින ගමනක් යන්න නම්, සැබෑ පිහිටක් ලබාගන්න නම් සරණේ පිහිටන්න, මේ දසබල ඥාණ වලට පහදින්න. ඊළඟට අටවෙනි ඥාණය, ඒ ධ්‍යාන විෂය පිළිබඳව තියෙන ඥාණය. අටවෙනි ඥාණය තමයි පුබ්බේනිවාසානුස්සති ඥාණය. පෙර ජීවිත දකින්න පුලුවන් ඥාණය. තමාගේත් අන් අයගේත් පෙර ජීවිත දැකීමේ ඥාණය. අපි මේ ත්‍රිවිද්‍යාව ඉගෙන ගන්නකොට ඉගෙන ගත්තා. එතකොට පින්වතුනි, බුදුරජාණන් වහන්සේට ජීවිතයක් දෙකක් නෙවෙයි, කල්පයක් දෙකක් නෙවෙයි, අතීතයේ ඕනතරම් බුදුරජාණන් වහන්සේට මෙයා කෑවෙ මෙහෙමයි, බීවෙ මෙහෙමයි, මෙයාගෙ නම මේකයි, ඒ කාලෙ හිතුවේ මේකයි කියලා හිතපු දේ පවා දැන් කියන්න පුලුවන්. පෙර ජීවිත. ඒකනෙ අර මනුස්සයෙක් කවුරුවත් වලේ ලාපු නැති තැනක තමන්ගේ ශරීරය වළලන්න හදනකොට බුදුරජාණන් වහන්සේ වදාළේ නුඹ ඔය නමින්ට අසූහාරදහස් වතාවක් වළේ දාලා ඉන්නවා කියලා, තත්පරේට පෙර ජීවිත බැලුවානෙ එයාගෙ. බුදුරජාණන් වහන්සේට පෙර ජීවිත පෙනීමේ හැකියාව අසීමිතයි. ඒක පුබ්බේනිවාසානුස්සති ඥාණය. ඒක තමයි අටවෙනි තථාගත බලය. නවවෙනි තථාගත බලය තමයි චුතූපපාත ඥාණය. මේකට තමයි දිවැස කියන්නෙ. කෙනෙක් මැරෙන හැටි, මැරිලා උපදින හැටි, චුතිය උපත පේනවා. හොඳ කරන අය හොඳ ලෝකවලටත්, නරක කරන අය නරක ලෝක වලටත් යන හැටි. එතකොට බුදුරජාණන් වහන්සේට තේරෙනවා මේ සත්ත්වයා හීන ප්‍රණීත ලෝක වලට වැටෙනවා. කාය දුශ්චරිතයෙන්, වචී දුශ්චරිතයෙන්, මනෝ දුශ්චරිතයෙන් ආර්යයන් වහන්සේලාට උපවාද කරලා, මිත්‍යා දෘෂ්ටික වෙලා, මිත්‍යා දෘෂ්ටික කර්ම සමාදන් වෙලා කායාසවේදා පරම්මරණං කායං දුග්ගතිං විනිපාතං නිරයං උපපජ්ජති, දුගතියට අපායට නිරයට යනවා. ඒ කාය සුචරිතය, මනෝ සුචරිතය, වචී සුචරිතය, සම්මා දිට්ඨිය, ආර්යයන් වහන්සේලාට උපවාද නොකිරීම, සම්මා දිට්ඨික කර්ම සමාදන් වීම, ඒවා හේතු කරගෙන සත්ත්වයා සුගතියේ යනවා. එතකොට සුගතියේ

දුගතියේ යන හැටි, ලාමක ලෝක වලට උසස් ලෝක වලට යන හැටි, බුදුරජාණන් වහන්සේ දිවැසින් දකිනවා. ඒකට කියනවා චුතූපපාත ඥාණය. එතකොට මේක නව වෙනි තථාගත බලය. දහවෙනි තථාගත බලය තමයි, පුනචපරං සාරිපුත්ත තථාගතෝ ආසවානංඛයා අනාසවං චේතෝ විමුත්තිං පඤ්ඤා විමුත්තිං දිට්ඨේව ධම්මේ සයං අභිඤ්ඤං සච්චිකත්වා උපසම්පජ්ජ විහරති, සාරිපුත්ත තථාගතයන් වහන්සේ ආශ්‍රව ක්ෂය කරලා, අනාශ්‍රව වෙලා. මේ ජීවිතේම අමා මහ නිවනට පත්වෙලා. කෙලෙස් ක්ෂය කරලා නිවනට පත්වෙලා ඉන්නවා. මේක තමයි දහවෙනි තථාගත බලය. එතකොට ආශ්‍රවක්ෂය, මේක තමයි ලොව්තුරා සම්බුද්ධත්වය. නැත්නම් අර්හත්වය. භාග්‍යවතුන් වහන්සේගෙ නම් සම්බුද්ධත්වය, ශ්‍රාවකයෙක් නම් අර්හත්වයට තමයි මේ ආසවක්ඛය ඥාණය කියලා කියන්නෙ. ආශ්‍රව ක්ෂය කිරීමේ ඥාණය. එතකොට ඔන්න අපිට ශක්ති පමණින්, අපි කෙටියෙන් ඉගෙන ගත්තා. දසබල ඥාණ. පළවෙනි ඥාණය තමයි බුදුරජාණන් වහන්සේ සිදුවිය හැකි දේ හැකි දේ වශයෙනුත්, සිදුවිය නොහැකි දේ නොහැකි වශයෙනුත් දකින ඥාණය. දෙවෙනි ඥාණය තමයි කර්ම විපාක අතීත, අනාගත, වර්තමාන කර්ම, ඒවගේ විපාක, විපාක දෙන තැන් දකින ඥාණය. තුන්වෙනි ඥාණය තමයි භාග්‍යවතුන් වහන්සේ සියල්ල පිණිස පවතින ප්‍රතිපදාව දන්නවා. හතරවෙනි ඥාණය තමයි බුදුරජාණන් වහන්සේ ලෝකෙ ධාතු ස්වභාවය දන්නවා. පස්වෙනි ඥාණය තමයි බුදුරජාණන් වහන්සේ සත්ත්වයන්ගේ වෙනස්කම් දන්නවා. අධිමුක්තිකතා, ධාතු වල තියෙන වෙනස්කම්. ඊළඟට හයවෙනි එක තමයි බුදුරජාණන් වහන්සේ ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය. හතවෙනි එක තමයි බුදුරජාණන් වහන්සේගේ ධ්‍යාන පිළිබඳව තියෙන ඥාණය. අටවෙනි එක තමයි බුදුරජාණන් වහන්සේගේ පෙර ජීවිත දැකීමේ ඥාණය. නව වෙනි එක තමයි බුදුරජාණන් වහන්සේගේ චුතූපපාත ඥාණය. දහවෙනි එක තමයි බුදුරජාණන් වහන්සේගේ ආසවක්ෂය ඥාණය. ලොකුස්වාමීන් වහන්සේගේ දසබල ඥාණ පිළිබඳ පොත් තියෙනවා, මහා සිංහනාද සූත්‍රයේ මේ පිළිබඳව විස්තර තියෙනවා, ඒ වගේම දසබල ඥාණ ගැන අපිත් මහා සෑයෙ කරපු ධර්ම දේශනා තියෙනවා. එතකොට මේවා ඉගෙන ගන්න. සරණ යන්න. මේක බුද්ධ වන්දනාවක් විදියට දසබල ඥාණ සජ්ඣායනා කරන්න. භාවනාවක් විදියට සිහි කරන්න. මේ අනන්ත දසබල ඥාණයෙන් සමන්විත වූ තථාගත අර්හත් බුදුරජාණන් වහන්සේ දිවි හිමියෙන් මම සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා

කියලා හිතන්න. බලන්න මේ අසිරිමත් සම්බුදු සරණට ආවට පස්සේ ඔබගේ ජීවිතය කොයිතරම් සැනසෙනවාද කියලා. ඒ නිසා මේ සසර කතරින් එතෙර වෙන්න දසබලධාරී තථාගත බුදුරජාණන් වහන්සේ දස බල ඥාණ තුළ පිහිටලා යම් දහමක් දේශනා කලා නම් ඒ ධර්මය අවබෝධ කරන්න අපිට වාසනාව ලැබේවා.

ඉතින් පින්වත්නි, අද දවසේ මේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ජර්මනියේ ෆ්‍රැන්ක්ෆර්ට් නගරයේ මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ පිරිස විසින්. ඉතින් අපි පළමුවෙන්ම සෙත් ප්‍රාර්ථනා කරමු දසබලධාරී තථාගත බුදුරජාණන් වහන්සේගේ දසබල ආනුභාවයෙන්, මේ ධර්ම දානයේ ආනුභාවයෙන්, ධර්මශ්‍රවණමය, දේශනාමය පින් බලයේ ආනුභාව බලයෙන්, මේ ලෝකයට මව්රටටත් ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ වසංගතය දුරින්ම දුරු වේවා. මිනිස්සුන්ගේ භය තැතිගැනීම් දුරු වෙලා සැනසිල්ලේ මනුස්ස වර්ගයාට වාසය කරන්න තුණුරුවන්ගේ ආශිර්වාදය, දසබල ඥාණයේ ආශිර්වාදයෙන් ආනුභාවයෙන් සෙත් වේවා කියලා අපි සෙත් පතමු. ඒ වගේම පින්වතුනි සියලු දෙව් දේවතාවුන් වහන්සේලා මේ පින් සතුටින් අනුමෝදන් වෙත්වා. සියලු දෙනා ආරක්ෂා කරත්වා. මේ පින් අනුමෝදන් වේවා කියලා අනුමෝදන් කරමු. ඒ වගේම මේ පින්වතුනි නමින් මියපරලොව ගිය සියලු ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී ඒ ඥාතීන් පරලොව සැපයට පත්වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පින්වතුනි, දසබල ඥාණ පිළිබඳව අපිට ඔය විදියට හරි කතා කරන්න, මේ ධර්මය මේ විදියට කතා කරන්න, ඒ වගේම මේ ලෝකයම ගින්නෙන් ඇවිලිලා ඉන්නකොට අපිට ධර්මයක් හරි කතා කරන්න, ධර්මයට හරි හිත පහදවාගන්න සැනසිල්ලක් අවස්ථාවක් ලැබුනේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ කල්‍යාණ වැට අපිට හඳුන්වලා දුන්නු නිසා. කල්‍යාණ වැට කරා අපි රැගෙන ආපු නිසා. පරමපූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් බලයෙන් නිදුක්, නිරෝගී, සුවපත්භාවයත්, දීර්ඝායුෂ සම්පත්තියත් සැලසේවා. ඒ වාගේම ජර්මනි මහමෙව්නා භාවනා අසපුවේ වැඩ සිටි සියලූම ස්වාමීන් වහන්සේලාට සියලු සකල ලෝකවාසී සංඝයාට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දරුවන්ට සියලු දෙනාට මේ පින් බලයෙන් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ දසබල ඥාණ තුළ පිහිටා වදාළ ඒ උතුම් ධර්මය අවබෝධ කරගැනීමේ වාසනාව උදාවේවා. ඒ වගේම ජර්මනියේ ෆ්‍රැන්ක්ෆර්ට් නගරයේ ඒ සියලූම මහමෙව්නාවට සම්බන්ධ පින්වතුන්ටත්, ඔබ

සියලු දෙනාටත්, මව් දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන්ටත් අපි කාටත් මේ පින් අනුමෝදන් වේවා, මේ පින් බලයෙන් කායික දුක්, මානසික දුක් දුරුවේවා. නිදුක් නිරෝගී සුව සැලසේවා. දසබලධාරී වූ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කලේ දසබල ඥාණ තුළ පිහිටලා සත්‍යයයි, ඒ සත්‍යානුභාවයෙන් සෙත් වේවා. උතුම් සම්බුදු සරණට පැමිණිලා, ගෞතම සසුනේ පිහිට ලබන්න ඔබට වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=UXznx0hM3Tk&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=31

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අපි අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේගේ උතුම් බුදුගුණ ගැනත්, ඒ සරණේ පිහිටන්න ඕන උපකාරක ධර්මත් තමයි මේ දේශනා තුළින් ලබාගන්නෙ. බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. ඒකාන්තයෙන් නිවන පිණිස හේතුවෙනවා බුදුරජාණන් වහන්සේ සරණ යන එක. බුදුරජාණන් වහන්සේ ගැන හිත පහදවාගන්නා එක. ඒ නිසා හොඳට මේ බුදුගුණ අහලා හිත පහදවගන්න. අද දවසේත් අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන

සඳහා දායකත්වය දරන්නේ ශ්‍රද්ධා රූපවාහිනියේ සහ ලක්විරු ගුවන් විදුලියේ විකාශනය කිරීම පිණිස රාජාංගණය, යාය හතර, කලාඔය යන ලිපිනයේ පදිංචි දැනට ක්වේට්හි සේවය කරන පින්වත් එච්.ඒ.සී. සඳකැළුම් මහත්මයා විසින් මේ අද ධර්ම දානය සිද්ධ කරන්නෙ. ඉතින් ඉතාමත් දුර කතරක ඉඳලා දාඩිය මහන්සියෙන් හරිහම්බ කරගන්න ධනයෙන් ලෝක සත්ත්වයාට ධර්මය අහන්න සළස්වන එක ඔබට සංසාරයේ දුකින් නිදහස් වීම පිණිසම හේතු වෙනවා. ඒ නිසා පළමුවෙන්ම හිතලා ඒ ගැන සන්තෝෂයට පත්වෙන්න. බුදුරජාණන් වහන්සේ දසබල ඥාණ තුළ පිහිටලා දේශනා කරපු උතුම් ධර්ම දේශනාවක් තමයි අදත් ශ්‍රවණය කරන්නෙ. අද අපි ශ්‍රවණය කරන දහම් කාරණාවට උතුම් බුදුගුණ කඳට කලින් අපි මීට කලින් දවස් දෙකක් දසබල ඥාණ විස්තර කලා. ඉතින් දස බල ඥාණ විස්තර කරලා අවසානයේ මටම හිතෙනවා මදි, විස්තර වුනා මදි කියලා, එච්චරම තියෙනවා. දැන් අපි ගත්තොත් එහෙම බුදුරජාණන් වහන්සේගේ ඍද්ධිවිද දැකීමේ ඥාණය සම්පූර්ණයෙන් ජාතක කතා සියල්ලම බුදුරජාණන් වහන්සේගේ පුබ්බේනිවාසානුස්සති ඥාණයනෙ. එතකොට ඒ පුබ්බේනිවාසානුස්සති ඥාණයෙන් තමයි ඔක්කොම දේශනා කලේ. එතකොට දසබල ඥාණ තුළ පිහිටලා දේශනා කරපු දහම් පරියායක් තමයි ජාතක කතා. එතකොට ජාතක කතාවකින් දහම් දෙසද්දි කාටහරි ඒක රුස්සන්නේ නැත්නම් ඒක ඒ බුදුරජාණන් වහන්සේගේ දසබල ඥාණවලට තමයි එයාගේ හිත අකමැත්ත ඇතිවුනේ. එතකොට කිසිම කතාවක් තවත් කෙනෙක් ගොතපු එකක් නෙවෙයි. බුදුරජාණන් වහන්සේ වදාළ දේවල්. එතකොට ජාතක කතා ගත්තොත් එහෙම සියල්ලගේම තියෙන්නේ පුබ්බේනිවාසානුස්මෘති ඥාණය. චුතූපපාත ඥාණය ගත්තොත් එහෙම පේතවත්ථු, විමානවත්ථු. ඊළඟට දේවදූත සූත්‍රයේ නිරයේ විස්තර, දිව්‍යලෝකයේ විස්තර. එතකොට බුදුරජාණන් වහන්සේ පරලොවක් ගැන සුගති දුගති ගැන වදාළා නම් ඒ සියල්ලම බුදුරජාණන් වහන්සේගේ චුතූපපාත ඥාණය. ඊළඟට පින්වතුනි ලොව්තුරා සම්මා සම්බුද්ධත්වයට පත්වෙලානෙ බුදුරජාණන් වහන්සේ මේ ඔක්කොම ධර්මය දේශනා කලේ. නිකෙලෙස් බවට පිහිටලානෙ. එහෙනම් මේ සෑම දේශනාවකම තියෙන්නෙ ආසවක්ඛය ඥාණය. ඇයි ඒ ධර්මයේ පිහිටලා දේශනා කරපු, නිකෙලෙස් කෙනෙක්නෙ දේශනා කරන්නෙ. දැන් මං ඒකයි කිව්වෙ අර පහුගිය කාලෙ මිනිස්සු හරියට කලබල වුනා මනාපකායික සූත්‍රය, උග්ගහසීව සූත්‍රය අර කාන්තාවන්ට පුබ්බුට්ඨාය, කලින්ම නැගිටින්න ඕන.

පච්චානි, පස්සෙ නිදාගන්න ඕන. නිම්මාණරතියේ යන අයට ප්‍රතිපදාවක්. සියලු ස්ත්‍රීන් විසින් කළයුතු දෙයක් නෙවෙයි, ඒක ප්‍රතිපදාවක්. එතකොට මේ බුදුරජාණන් වහන්සේ ආසවක්ඛය ඥාණය තුළ පිහිටලා සබ්බත්ථ ගාමිණී පටිපදා, සියලු ස්ථාන වලට යන ප්‍රතිපදා දැනගත්ත ඥාණය තුළ පිහිටලා දේශනා කරපු සූත්‍ර දේශනාවකට නේද මේ සත්ත්වයෝ කිපෙන්නේ. ඒ ඇත්තන්ට කොච්චර කාලයක් අහිත පිණිස දුක් පිණිස පවතිනවාද. මේක තමයි නොදන්නාකම. ඔබ අතින් වූ නොදන්නාකම නිසා අකුසල් සිදු නොවේවා කියන අදහසින් මේ ධර්මය දේශනා කරන්නෙ. මේ ධර්මයට පැහැදුනාට පස්සෙ භාග්‍යවතුන් වහන්සේ දේශනා කළා කියනකොට එතනින් එහාට එයා ප්‍රකාශයක් කරන්නෑ, එයා ධර්ම විනයට සසඳන්න නිහඬවෙනවා. මොකද අපි ආවේගයට ශාස්තෘන් වහන්සේ වදාළ වචනයකට අපි අතින් වරදක් වුනොත් එහෙම අපිට ඒක බොහෝ කාලයක් අහිත පිණිස, දුක් පිණිස පවතිනවා. මක් නිසාද, මෙච්චර කාලයක් අපි සංසාරේ ආවේ ඒ ශාස්තෘ වූ තථාගත බුදුරජාණන් වහන්සේගේ ධර්මය අවබෝධ කරගන්න බැරිවීම නිසා. දැනුත් මේ පිහිටක් ලබන්න සුලු මොහොතක්, අසුරු සැණක්, විදුලි එළියක් ගහන මොහොතක් වගේ පුංචි වෙලාවක් ලැබුනේ. ඒ ලැබිච්ච වෙලාවේ මේ මොහොත අහිමි වෙන්න එපා. ඉතින් අද දවසේ අපි කතා කරනවා, බුදුරජාණන් වහන්සේගේ විශාරද ඥාණ හතර. බොහෝ අය දසබල ඥාණ, විශාරද ඥාණ කියන නමින් අහලා තිබ්බට විස්තර විභාග වශයෙන් යම් පමණකටවත් තේරුම් ගත්තෙ නැති අයත් ඉන්නවා, දන්න අයත් ඉන්නවා. මේ ගුණ සිහිකරනකොට තමයි බුදුරජාණන් වහන්සේ ගැන අප්‍රමාණ පැහැදීමක් සරණක් හටගන්නෙ. සාමාන්‍යයෙන් පින්වතුනි මේක මෙච්චර විභාග විස්තර බුද්ධ කාලයේ අය සමහරවිට උපාසක, උපාසිකාවො ගොඩාක් නොදැනගෙන ඉන්න පුලුවන්. නමුත් එයාලට විශේෂ හැකියාවක් තිබ්බා, එක දේකින්ම බුදුරජාණන් වහන්සේට පහදිනවා. සමහර වෙලාවට බුදුරජාණන් වහන්සේගේ ගමන් විලාශයෙන්ම පහදිනවා. එච්චර දෙයක් තිබ්බා ඒ කාලයේ. දැන් ඒ කාලයේ එක්තරා මානවකයෙක් හිටියා, කිසිකෙනෙකුට වඳින් නෑ, අම්මට වඳින්නෑ, තාත්තට වඳින්නෑ, වැඩිහිටි කෙනෙකුට වඳින්නෑ, මනුස්සයෙක් එක්ක කතා කරන්නෑ, හරිම ආඩම්බරයි. ආඩම්බරයි. ඊටපස්සෙ ගෙදරට කෙනෙක් ආවට කතා කරන්නෙ නෑ. ඊටපස්සෙ මේ කෙනා, මේ තරුණයා, තට්ටු ගොඩනැගිල්ලක්, මාළිගාවක්, සිටු කුමාරයෙක් වෙන්න ඕන. ඈත බලාගෙන හිටියා ජනෙල් කවුලුවෙන්. දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් හෙබි, අසූ

අනුව්‍යඤ්ජනයන්ගෙන් හෙබි සෝබමාන කසාවතින් සැරසුනු තථාගත බුදුරජාණන් වහන්සේ ශ්‍රාවක සඟරුවන පිරිවරාගෙන ඈතින් වඩිනවා මාවතේ. දුටුවා, දුටුව ගමන්ම ශරීරයට මොකක්දෝ වුනා. සීතල වෙලා ගියා හිත. පඩිපෙළින් බැහැගෙන බැහැගෙන ඇවිල්ලා වේගයෙන් අර වීදියේ දිව්වා. දුවලා බුදුරජාණන් වහන්සේගේ සිරිපා ළඟ වැඳ වැටුනා. ස්වාමීනී, භාග්‍යවතුන් වහන්ස මට ඔබ වහන්සේගේ ශ්‍රාවක දරුවෙක් වෙන්න ඕන. පැවිදි වුනා. අර්හත්වයට පත්වුනා. දර්ශනයෙන් කෙලෙස් ගෙවෙනවා, දැක්මෙන් කෙලෙස් ගෙවෙනවා. බුදුරජාණන් වහන්සේලා ඒකාන්තයෙන් ආශ්චර්‍යයි. ඉතින් විශාරද ඥාණ හතර, අංගුත්තර නිකායේ තියෙන වේසාරජ්ජ කියලා සූත්‍රයක්. ඒ සූත්‍ර දේශනාවෙ විශාරද ඥාණ හතර විස්තර කරලා තියෙනවා, අපි බලමු. බුදුරජාණන් වහන්සේ වදාළා චත්තාරිමානි භික්ඛවේ තථාගතස්ස වේසාරජ්ජානි, බුදුරජාණන් වහන්සේට පින්වත් මහණෙනි විශාරද ඥාණ හතරක් තියෙනවා. යේහි වේසාරජ්ජේන සමන්නාගතෝ තථාගතෝ ආසබන්ඨානං පටිජානාති. මේ විශාරද ඥාණ තුළ පිහිටලා තමයි බුදුරජාණන් වහන්සේ ශ්‍රේෂ්ටත්වය ප්‍රකාශ කරන්නෙ. බය නැතිව කතා කරන්නෙ. පරිසාසු සීහනාදං නදති, පිරිස් මැද සිංහනාද කරනවා. බ්‍රහ්මචක්කං පවත්තේති, උතුම් වූ ධර්ම චක්‍රය ප්‍රවර්තනය කරනවා. කතමානි චත්තානි? මොනවද ඒ හතර? ඔන්න විශාරද ඥාණ හතර. දැන් මේවා මතක තියාගන්න ඕන. සිහි කරන්න ඕන. සම්මා සම්බුද්ධස්සතේ පටිජානතෝ ඉමේ ධම්මා අනභි සම්බුද්ධාති තත්‍ර වතමං සමනෝවා බ්‍රහ්මනෝවා දේවෝවා මාරෝවා බ්‍රහ්මාවා කෝචිවා ලෝකස්මිං සහධම්මේන පටිචෝදෙස්සාමීති නිමිත්තමේතං භික්ඛවේ නසමනුපස්සාමි, බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි කියලා ප්‍රතිඥා දෙනවානෙ. ඒ කියන්නේ සියලුම ධර්මයන් ස්වයංභූත් ඥාණයෙන් අවබෝධ කලා. සම්මා සම්බුද්ධයි කියන්නෙ ඒකට. එතකොට සියලුම දේ අවබෝධ කරගත යුතු සියල්ලම ස්වයංභූත් ඥාණයෙන් ඔබ වහන්සේ අවබෝධ කලා කියලා ප්‍රතිඥා දුන්නට අහවල්, අහවල් දේ අවබෝධ කරලා නෑ කියලා කියන්න පුලුවන් කෙනෙක් දෙවියන් මරුන්, බඹුන් සහිත ලෝකයේ කිසිම කෙනෙකුට කරුණු සහිතව කියන්න පුලුවන් නිමිත්තක්වත්, චූටි අංශුවක්වත් දකින්න නෑ. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඒතං පහං භික්ඛවේ නිමිත්තං අසමනුපස්සන්තෝ, මේන්න මේකට පුංචි ඉඩක්වත්, පුංචි කරුණක්වත්, පුංචි නිමිත්තක්වත් දකින්නැති මම ඒමංපත්තෝ, භය නැති තැනට පත්වෙලා, අභයපත්තෝ, නිර්භය බවට පත්වෙලා. වේසාරජ්ජපත්තෝ වේරාමි, විශාරද,

භය නැතිව පිරිස් අතරට යනවා. විශාරද බවට පත්වෙලා. නැතිගැනීමක් නෑ. ඒ කියන්නෙ කිසිම කෙනෙකුට කියන්න බෑ ඔබ වහන්සේ අහවල් දේ අවබෝධ කරලා නෑ කියලා. කිසිම කෙනෙකුට කියන්න බෑ. බුදුරජාණන් වහන්සේ සියල්ල අවබෝධ කරපු කෙනෙක්. එතකොට ඒ නිසා කවුරු ළඟට යන්නද භය? දෙවියන් ළඟ, බ්‍රහ්මයන් ළඟ, ඊළඟට මාර පිරිස, රාජ පිරිස, බ්‍රාහ්මණයො පිරිස, වේද වේදාන්තරයන්හි පරතෙරට පත් මහා බමුණො තමයි ඒ කාලෙ අනිත් අය නැති ගන්වමින් හිටියේ. නමුත් බුදුරජාණන් වහන්සේ ඒ සියලු දෙනා මැදට යනවා. කිසි කෙනෙක් බුදුරජාණන් වහන්සේ එක්ක වාද විවාදයට පටලැවෙන් නෑ, පටලැවිලා මොනවා අහන්නද? අවබෝධ නොකළේ කුමක්ද? අවබෝධ කලානෙ සියල්ල. එහෙනම් පළවෙනි කාරණාව තමයි බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුද්ධත්වයට අභියෝග කරන්න බෑ. ඔන්න ඔය විදියට කෙටියෙන් මතක තියාගත්තා නම් හරි. බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුද්ධත්වයට අභියෝග කරන්න බෑ. ඒකෙ විස්තරය තමයි බුදුරජාණන් වහන්සේ සියල්ල අවබෝධ කලා කිව්වාට අහවල් දේවල් අවබෝධ කලේ නෑ කියලා කිසි කෙනෙකුට කියන්න බෑ, නිමිතතක්වත් දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකයේ කිසිම කෙනෙකුට එහෙම කියන්න පුලුවන් නිමිත්තක්වත් දකින්නෑ, ඒ නිසා ඕනම පිරිසකට ඕනම තැනකට නිර්භයව යනවා භාග්‍යවතුන් වහන්සේ. විශාරදව වඩිනවා බුදුරජාණන් වහන්සේ. බලන්න අවබෝධයක්. දැන් ධර්මය ගැන වුනත් හොඳට දහම් දැනුමක් තියෙන, ධර්ම විනය ගැන හොදට තේරෙන ශාසනික සංස්කෘතික ඉතිහාසය හොදට තේරෙන භික්ෂුවකට භය නැතිව ඕනම භික්ෂූන් වහන්සේලා අතරට යන්න පුලුවන්නෙ. දැන් අපි ඒ පිරිස අතරෙ ඒ තැන විස්තර අපි ඒක දන්නෙ නැත්නම් ඔතෙන්ට ගිහිල්ලා කොයි වාගේ වෙයිද, මොකක් වෙයිද, එහෙම කියලා චකිතය උපදිනවා. අර නිර්භය බව නැතිවෙනවා. ඒක තේරුම් ගන්න විශාරද බව කියන එක. බුදුරජාණන් වහන්සේ සියල්ල අවබෝධ කලා. ඒ නිසා තුන් ලෝකෙම ඕනම කෙනෙක් අතරට, ඕනම පිරිසක් අතරට වඩිනවා. රෝම කූපයකටත්, බුදුරජාණන් වහන්සේගේ අංශු මාත්‍රයකටවත් භයක් හිතෙන් නෑ. සම්මා සම්බුද්ධයි. සියල්ල අවබෝධ කලා. ඒ නිසා වාද විවාද වල කිසි කෙනෙකුට තේරුමක් නෑ. බුදුරජාණන් වහන්සේගේ ධර්මයෙන් කරුණු අහගෙන බමුණොත් ඒවා කියන්න ගත්තා. අන්‍යාගම් ශාස්තෘවරු. බුදුරජාණන් වහන්සේ රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කිරීම පිණිසනෙ දහම් දෙසන්නෙ. ඔන්න සාරිපුත්ත මහරහතන් වහන්සේ පිණ්ඩපාතෙ වඩිනකොට අර වෙනත්

පරිබ්‍රාජකයො කතා කරලා කිව්වා, මෙහෙ වඩින්න. ඔබ වහන්සේලා බණ කියන්නෙ රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කරන්න නේද? ඊටපස්සෙ සාරිපුත්‍රයන් වහන්සේ වදාළා රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කිරීම පිණිසයි. ඉතින් අපිත් ඕකමනෙ බණ කියන්නෙ. අපිත් රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කරන්න කියලානෙ කියන්නෙ. දැන් අර වචන අල්ලලා මේ. ඊටපස්සෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ නිහඬව වැඩියා. බුදුරජාණන් වහන්සේට කාරණාව සැළකර හිටියා. බුදුරජාණන් වහන්සේ වදාළා ඔය ඔන්න ඔහොම කියපු අයට, මට මතක නෑ සාරිපුත්ත මහරහතන් වහන්සේද, අන්‍යතර එක්තරා භික්ෂුවක්ද කියලා. ඔන්න ඔය වාගේ රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කරන්නයි අපිත් ඉන්නේ කියලා කියන්නේ කියලා කියනකොට පරිබ්‍රාජකයන්ගෙන් පෙරලා අහන්න තියෙන ප්‍රශ්නයක් තියෙනවා, ඒ තමයි රාගයේ වෙනස්කම් මොනවාද, ද්වේෂයේ වෙනස්කම් මොනවාද, මෝහයේ වෙනස්කම් මොනවාද? කියලා ඇහුවා නම් ඒ මිනිස්සුන්ට දාඩිය දානවා කිව්වා උත්තරයක් දීගන්න බෑ. බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, රාගය කියන එක අප්ප සාවජ්ජා දන්ධාපහීනා, ඒ කියන්නේ ඒකෙන් වෙන හානිය අඩුයි, නමුත් හිමීට තමයි ප්‍රහාණය වෙන්නෙ. ඊටපස්සෙ ද්වේෂය තියෙනවා, පහාසාවජ්ජා කිප්පා පහීණා, විශාල විනාශයක් කරන්න පුලුවන් ද්වේෂයෙන්. හැබැයි ඉක්මණට ද්වේෂය නැතිවෙනවා. ඊටපස්සෙ දැන් ඔන්න මේක අහනකොට රාග චරිත අය සතුටු වෙන්න ඇති ලොකු විනාශයක් නෑ කියලා. ඊළඟ එක තියෙනවා පින්වත් මහණෙනි, මෝහය. මහාසාවජ්ජා දන්ධා පහීණා, විශාල හානියක් මෝහයෙන් සිද්ධ වෙනවා, හිමීට තමයි මෝහය නැතිවෙන්නෙ. එතකොට අපිට ගැලවෙන්න පැත්තක් නෑ, ඔන්න රාග, ද්වේෂ, මෝහ වල වෙනස්කම්. ඊටපස්සෙ තව සමහර අය ඇවිල්ලා පංචුපාදනස්කන්ධ වචනය අහලා ආයෙත් සංඝයාට ඇදයක් හොයන්න, කියන්නම බලන්නෙ ඒ කාලෙ. මේ ඔහෙලා රූප, වේදනා, සංඥා, සංකාර, විඤ්ඤාණ, පංචුපාදානස්කන්ධ ගැනනෙ බණ කියන්නෙ. අපිත් ඒවා ගැන තමයි කියන්නෙ කිව්වා. ඉතින් සංඝයා ඇවිල්ලා බුදුරජාණන් වහන්සේට වදාළා, බුදුරජාණන් වහන්සේ වදාළා, ඔහොම කියන අයගෙන් අහන්න තිබුනෙ රූපයේ ආස්වාදය කුමක්ද, ආදීනවය කුමක්ද, නිස්සරණය කුමක්ද? වේදනාවේ ආස්වාදය මොකක්ද, ආදීනවය මොකක්ද, නිස්සරණය මොකක්ද? සංඥාවේ ආශ්වාදය මොකක්ද, ආදීනවය මොකක්ද, නිස්සරණය මොකක්ද? සංස්කාරවල ආස්වාදය මොකක්ද, ආදීනවය මොකක්ද, නිස්සරණය මොකක්ද? විඤ්ඤාණයේ ආස්වාදය කුමක්ද, ආදීනවය කුමක්ද,

නිස්සරණය කුමක්ද? ඕක ඇහුවා නම් ඔය අයට උත්තරයක් නෑ, දීගන්න විදියක් වෙන් නෑ කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ බලන්න මේ මිනිස්සු කොච්චර කරුණු කාරණා කියාගෙන ආවාද? බුදුරජාණන් වහන්සේගේ සම්බුද්ධත්වය ඉදිරියේ සියල්ල සුන්නද්ධූලි වෙලා යනවා. අභයරාජ කුමාරයාට බුදුරජාණන් වහන්සේ, නිගණ්ඨනාථපුත්ත තමයි ඉගැන්නුවේ කාරණාව. නිගණ්ඨනාතපුත්ත කිව්වා අභයරාජ කුමාරය, ශ්‍රමණ භවත් ගෞතමයාගෙන් ගිහිල්ලා අහන්න ඔබ වහන්සේ හරි කරුණා මෛත්‍රියෙන් ඉන්න කෙනෙක්ද, ඊටපස්සෙ උන්වහන්සේ උත්තර දුන්නොත් මම කරුණාවෙන් මෛත්‍රියෙන් ඉන්නෙ කියලා, එතකොට අහන්න එහෙනම් අර දේවදත්ත අපායෙ යනවා කියලා දේවදත්තට අගේට සැරට කතා කරලා තියෙන්නෙ. ආයෙ බේරගන්න බෑ, මොකවත් කරන්න බෑ කියලා. සැර වචනනෙ ඒවා. ඊටපස්සෙ ශ්‍රමණ භවත් ගෞතමයන් කිව්වොත් එහෙම, අභයරාජ කුමාරයාට කිව්වා ගිහිල්ලා අහන්න කරුණා මෛත්‍රියෙන්ද ඉන්නෙ කියලා, ඊටපස්සෙ මම විශේෂ කරුණා මෛත්‍රියක් නෑ කිව්වොත් මූණටම අහන්න එහෙනම් ඔබවහන්සේගේ මේ නිකම් සාමාන්‍ය මිනිස්සුන්ගෙයි කිසිම වෙනසක් නැනෙ. බලන්න එකම ප්‍රශ්නය මොන උත්තරේ දුන්නත් හිරවෙනවා. ඊටපස්සෙ ඒ කාපු දෙයක් ගිලගන්නත් බැරිව, වමාරගන්නත් බැරිව වගේ වෙනවා අභයරාජ කුමාරය. හැමතැනම ඔබගේ කීර්තිරාවය පැතිරිලා යනවා, ශ්‍රමණ භවත් ගෞතමයෝ පරාජයට පත් කළා කියලා, යන්න කිව්වා. ඊටපස්සෙ ඔන්න අභයරාජ කුමාරයා බුදුරජාණන් වහන්සේ ළඟට ගියා. යනකොට එතන ලොකු පිරිසක් නෑ, ඉතින් අභයරාජ කුමාරයා හිතුවා මේ ප්‍රශ්නය අහන්න ඕන ගොඩක් මැද. හෙට අපේ ගෙදරටම ගෙන්නනවා, එතකොට මට තවත් හයියක් තියෙනවා කියලා, ස්වාමීනී හෙට මගේ ගෙදර දානයට වඩින්න කියලා දානයට ආරාධනා කලා. ඊටපස්සෙ ඔන්න ගෙදර දානයට වැඩියා සංඝයාත් එක්ක. දානය වළඳලා ඉවරවුනාට පස්සෙ ඇහුවා, මේ මං අහන්න හිටියේ භවත් ගෞතමයන් වහන්ස, ඇත්තටම ඔබවහන්සේ කරුණා මෛත්‍රියෙන් ඉන්න කෙනෙක්ද, කරුණා මෛත්‍රියෙන් වචන කියන කෙනෙක්ද? ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා ඒකට මට හරියටම උත්තරයක් දෙන්න බෑ. එතකොට දැන් අරයා වෙනම උත්තරේ හදාගෙන හිටියානෙ. එතකොට දැන් හරියටම උත්තරයක් දෙන්න බෑ කියලා අඩමානෙට කිව්වොත් එහෙම දෙන උත්තරේ නිගණ්ඨනාතපුත්ත ඉගැන්නුවෙ නෑ. ඊටපස්සෙ එකපාරම කියවුනා නිගණ්ඨයා ඉවරයි කියලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ කුමාරයාගෙන්

අහනවා, අභයරාජ කුමාරය, ඔබ මොකක්ද නිගණ්ඨයා ඉවරයි කිව්වේ. ඊටපස්සෙ කිව්වා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස නිගණ්ඨයා ඉවරයි කියලා කිව්වෙ නිගණ්ඨයා තමයි මට මෙහෙම කාරණාවක් අහන්න කිව්වෙ, ඉතින් ඒකට දුන්නු උත්තර දෙකට ඔබවහන්සේගෙන් උත්තරේ ආවෙ නෑ. ඉතින් මට හිතුනා නිගණ්ඨයා ඉවරයි කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා දේවදත්ත ගැන කරපු ප්‍රකාශය එහෙම, ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ වචනයක් කතා කරද්දි ඒ වචනයේ තියෙන ක්‍රම හය දේශනා කලා. ඉතින් ඊටපස්සෙ වචනයේ ක්‍රම හයක්. ඒ කියන්නෙ භාග්‍යවතුන් වහන්සේ සිදු නොවූ දෙයක්, අසත්‍ය දෙයක්, අන් අයට අර්ථයක් නැති දෙයක්, අන් අය අප්‍රියයි, අමනාපයි, කොහොමටවත් දේශනා කරන් නෑ. ඊළඟට සිදුවූ දෙයක්, සත්‍ය දෙයක්, සිදුවෙලත් තියෙනවා, ඇත්තයි නමුත් ඒක අනර්ථය පිණිස පවතිනවා. දේශනා කරන් නෑ. සිදුවූ දෙයක්, සත්‍ය දෙයක්, අර්ථය පිණිස පවතිනවා, අන් අය අකැමැතියි, හැබැයි බුදුරජාණන් වහන්සේ වෙලාව කලාව බලලා, කාලානුරූපව ඒක දේශනා කරනවා. ඊළඟට තියෙනවා සිදු නොවූ දෙයක්, අසත්‍ය දෙයක්, ඊළඟට අනර්ථය පිණිස පවතිනවා, අන් අය ප්‍රියයි, දේශනා කරන්නෑ. එයාලා ප්‍රිය වුනාට අනර්ථය පිණිස පවතිනවානම් දේශනා කරන් නෑ. සත්‍යය දෙයක්, ඊළඟට සිදුවූ දෙයක්, අනර්ථය පිණිස පවතිනවා, අන් අය ප්‍රියයි, ඒත් දේශනා කරන් නෑ. සිදු වූ දෙයක්, සත්‍යයයි, අර්ථය පිණිස පවතිනවා, අන් අය ප්‍රියයි, එයත් කාලානුරූපව දේශනා කරනවා. එතකොට මං කරුණු හයක් කිව්වා. එතකොට ලෝකයේ වචන කතා කරන ක්‍රම හයක්. ඒ ක්‍රම හයෙන් බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ සත්‍ය වෙන්න ඕන, සිදුවූ දෙයක් වෙන්න ඕන, අර්ථ සහිත වෙන්න ඕන, අනිවාර්යයෙන් අර්ථයක් තියෙන්න ඕන ඒ වචනෙ, ඒ වගේම ඒක අන් අයට ප්‍රිය වුනත්, අප්‍රිය වුනත් කාලානුරූපව දේශනා කරනවා. කොහොමද වචනයේ තියෙන නිරවුල් බව භාග්‍යවතුන් වහන්සේගේ. එතකොට අභයරාජ කුමාරයා අහනවා, ඔබ වහන්සේ මේ උත්තර හදාගෙනද ඉන්නෙ මේ, මේ අපි අහන අහන විදියට උත්තර දෙන්න? බුදුරජාණන් වහන්සේ වදාළා ඒකටත් උත්තරේ. ඔබ දැන් වාහන හදන්න දක්ෂයි, කලින් උත්තර හදාගෙනද ඉන්නෙ කවුරුහරි කෑල්ලක් ගැන ඇවිල්ලා ඇහුවොත් කියන්න. අනේ නෑ මං වාහනේ ගැන දක්ෂයි, ඉතින් ඒ නිසා ඕනම කෙනෙක් මගෙන් වාහනේ කොටසක් ඇහුවොත් කියනවා මේක වෙන්නෙ මෙහෙමයි මෙහෙමයි කියලා. ඒ මම ඒ ගැන දක්ෂ නිසා. බුදුරජාණන් වහන්සේ වදාළා තථාගතයන් වහන්සේ ධර්මධාතු සුප්පටිවිද්දා, ධර්ම ධාතුව අවබෝධ

කළා. ඒ නිසා භාග්‍යවතුන් වහන්සේගෙන් ඕනම කෙනෙක්, ඕනම මොහොතක, මොනවා ඇහුවත්, ඒකට අදාළ කාරණය තථාගතයන් වහන්සේට වැටහෙනවා. ආශ්චර්යයියි, අද්භූතයි. සම්මා සම්බුදුයි. කිසි කෙනෙකුට බුදුරජාණන් වහන්සේ අහවල් දේ අවබෝධ කලේ නෑ කියලා ඇඟිල්ලක් දික් කරන්න බෑ. බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුද්ධත්වයට අභියෝග කරන්න බෑ කිසි කෙනෙකුට. දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකෙ. ආන්න ඒක පළවෙනි විශාරද ඥාණය. එතකොට ඔබ සිහි කරන්න බුදුන් වදිනකොට, සෑය බෝධිය වදිනකොට මාගේ ස්වාමී වූ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුදු බව ප්‍රතිඥා දෙනවා. ඒ සම්මා සම්බුදු බව ප්‍රතිඥා දුන්නාට අහවල් අහවල් දේ අවබෝධ නොකළා යැයි කියා දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකෙ කිසි කෙනෙකුට ප්‍රතිචෝදනා දෙන්න එකම කාරණාවක්වත් භාග්‍යවතුන් වහන්සේ දකින්නැති හෙයින්, බුදුරජාණන් වහන්සේ විශාරදයි. විශාරද ඥාණයෙන් යුක්තයි කියලා. කෙටියෙන්ම තවත් කෙටියෙන්ම සිහි කරනවා නම්, මාගේ ස්වාමී වූ බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුද්ධත්වයට අභියෝග කළ හැකි කිසිකෙනෙක්, දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකෙ කිසි කෙනෙක් නෑ, ඒ කරුණෙන් බුදුරජාණන් වහන්සේ විශාරදයි කියලා. දෙවනි කාරණාව තමයි ඛීනාසවස්සතේ පටිජානතෝ ඉමේ ආසවා අපරික්ඛීණාති තත්‍ර වතමං, බුදුරජාණන් වහන්සේ දේශනා කළා, කෙනෙක් කියනවා ඛීනාක්ස්‍රව සියලු ආස්‍රව ඔබවහන්සේ ප්‍රහාණය කලා කියලා කිව්වාට, ආස්‍රව කියන්නෙ මොකක්ද, කාමාස්‍රව, භවාස්‍රව, අවිජ්ජාස්‍රව. පින්වතුනි මේ ආස්‍රව මුල් කරගෙන තමයි මේ ඔක්කෝම හටගන්නෙ කෙලෙස්. කාමාස්‍රව, කෙලෙස් වල යටපත් වූ ස්වභාවය. දැන් ඒකනේ බ්‍රහ්ම ලෝකෙ කල්ප පන්සීයක් ඉඳලා මනුස්ස ලෝකෙට ආවට පස්සෙ කාමය ආපහු ඇවිස්සෙනවානෙ. ඇයි ඒ? ඒ බ්‍රහ්ම ලෝකෙ හිටියත් ආස්‍රව තියෙනවා. කෙලෙස් වල මූලික ස්වභාවය තියෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේ කෙලෙස් ප්‍රහාණය කලා කියලා කිව්වාට, ආස්‍රව ප්‍රහාණය කලා කියලා කිව්වට අහවල් අහවල් කෙලෙස් ඔබ වහන්සේ ළඟ තියෙනවා කියලා සමණෝවා, බ්‍රාහ්මනෝවා, දේවෝවා, මාරෝවා, බ්‍රහ්මාවා, කෝචිවා ලෝකස්මිං සහධම්මේන පටිචොදෙස්සතීති නිමිත්තේනං භික්ඛවේන සමනුපස්සාමි, ප්‍රතිචෝදනා කරන්න පුලුවන් දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකෙ කිසිවෙකුට ප්‍රතිචෝදනා කරන්න පුලුවන් කරුණක්, නිමිත්තක්වත් දකින් නෑ බුදුරජාණන් වහන්සේ. ආන්න ඒතං පහං භික්ඛවේ නිමිත්තං අසමනුපහං

පස්සන්තෝ, මෙන්න මේකට කිසිම කරුණක් අංශුමාත්‍රයක කරුණක් දකින්නට නැති හෙයින් ඒමංපත්තෝ, භය නැති තැන ඇවිල්ලා ඉන්නේ. අභයපත්තෝ, නිර්භය වෙලා ඉන්නෙ. වේසාරජ්ජපත්තෝ, විශාරද තත්ත්වයට පත්වෙලා බුදුරජාණන් වහන්සේ වැඩ සිටින්නෙ. බුදුරජාණන් වහන්සේගේ ඔය දෙවෙනි විශාරද බලය. ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස බවට අභියෝග කරන්න බෑ. මේ බුදුරජාණන් වහන්සේගේ විශාරද නිසා තමයි තණ්හා, අරති, රඟාගෙ ජීවිත සම්පූර්ණයෙන්ම සුන්නද්ධූලි වෙලා ගියෙ. ඔවුන් මේ ලෝකෙ කිසි කෙනෙකුට පැරදිලා නෑ, මාර දූවරු. බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා තියෙනවා, එක එක රූප මවාගෙන. සාමාන්‍ය කෙනෙක් දැක්කා නම් දකිනකොටම උණු ලේ වමනය කරලා මැරෙනවා. හදවත පුපුරනවා කියනවා රාගයට. ඒ විදියට ඇවිල්ලා තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේගේ හිතේ මදකුදු වෙනස්වීමක් සිද්ධවෙන්නෙ නෑ. භාග්‍යවතුන් වහන්සේ විශාරදයි. රාගය අවුස්සන්න බෑ කාටවත් බුදු කෙනෙක්ගේ. හේතුව ආස්‍රව ප්‍රහාණයිනෙ. කෙලෙස් ප්‍රහාණයිනෙ. මාගන්ධියා ඇවිල්ලා, මාගන්ධි බ්‍රාහ්මණයා තමන්ගේ දෝණියන්දෑ දෙන්න හැදුවේ, ලෝකෙ ලස්සනම කෙනාට කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා මාගේ මාපටඇඟිල්ලෙන්වත් නවදොරින් අශුචි වැගිරෙන ඔය කුණු අශුචි පිරිච්ච කළයක් වගේ ශරීරය ස්පර්ශ කරන්න කැමැති නෑ කියනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ කාමාස්‍රව නැනෙ, සියලු කෙලෙස් ප්‍රහාණයිනෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේ තරහ ගස්සවන්න පුලුවන් කෙනෙක්, කොච්චර බ්‍රාහ්මණයන් ඇවිල්ලා තියෙනවාද බැනගෙන, වෙව්ලගෙන බැනගෙන ඇවිල්ලා තියෙන්නෙ. භාග්‍යවතුන් වහන්සේ නිහඬයිනෙ. ඊළඟට භාග්‍යවතුන් වහන්සේ, චිංචිමානවිකාව බුදුරජාණන් වහන්සේට ඇවිල්ලා චෝදනා කරනකොට මහා කාරුණික බුදුරජාණන් වහන්සේ ඇයගේ කර්මයෙන් ඇය විඳින දුක් කන්දරාව දකිනකොට මහා කරුණාව ඉපදුනානෙ. තරහ ගස්සන්න බෑ බුදුරජාණන් වහන්සේ, නිකෙලෙස් නෙ. දේවදත්තට ගල් පෙරලලාවත්, එහෙම බෑ තරහ අවුස්සන්න බුදුරජාණන් වහන්සේ නිකෙලෙස් නිසා. රාහුලයන්ට යම්සේ කරුණාවක් මෛත්‍රියක් තියෙනවාද, බුදුරජාණන් වහන්සේ දේවදත්තටත් ඒ කරුණාවමයි, ඒ මෛත්‍රියමයි. එතකොට පින්වත්නි, බුදුරජාණන් වහන්සේ නිකෙලෙස්. බුදුරජාණන් වහන්සේට මාන්නය නෑ. බුදුරජාණන් වහන්සේ වසලයන්ගේ වීදියේ පිණ්ඩපාතෙ වඩිනවා. මහා බ්‍රහ්මයාගෙ බ්‍රහ්ම විමානෙත් වැඩ ඉන්නවා. බුදුරජාණන් වහන්සේට ඒ තැන් දෙකේම වෙනසක් නෑ. බුදුරජාණන් වහන්සේ

අසදෘශ වාගේ මහා දානය වෙලාවෙත් දත් වළදනවා. කසීභාරද්වාජගේ කුඹුරට ගිහිල්ලා දානය නැතිව එනවා. ඒ දවස් දෙකේම බුදු සිතේ වෙනසක් නෑ, නිකෙලෙස්. බුදුරජාණන් වහන්සේට ලෝකයාම සෝ භගවා ඉති පි අරහං ආදී වශයෙන් වදිනවා. නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස කියලා වදිනවා, ඒ වගේම ගෙදරකට වඩිනකොට තිට්ඨවේ වසල, වසලය ඔහොම නවතින්න කියලා බ්‍රාහ්මණයෙක් කියනවා. ඒ තැන් දෙකේම සිතේ වෙනසක් නෑ. බුදුරජාණන් වහන්සේ නිකෙලෙස්. උපමාවකට කියනවා බුදුරජාණන් වහන්සේගේ එක ශ්‍රී හස්තයක් වෑයකින් රැස්සොත් අනෙක් ශ්‍රී හස්තයේ සඳුන් කල්ක තැවරුවොත් ඒ දෙක ඉදිරියේම බුදුරජාණන් වහන්සේගේ හිත සමානයි. නිකෙලෙස් නිසා. ඒ බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස් බවට අභියෝග කරන්න බෑ. නිකෙලෙස් නෑ කියලා. අන්න දෙවෙනි තථාගත බලය. පළවෙනි එක සම්මා සම්බුද්ධත්වයට අභියෝග කරන්න බෑ. දෙවෙනි එක නිකෙලෙස් බවට අභියෝග කරන්න බෑ. ඒ නිසා ඕනම තැනක යනවා. විශාරද නැති බව මං උපමාවකින් කියන්නම් තේරෙන්න, කියනවා මං එතෙන්ට ගිහිල්ලත් නෑ ඔය කට්ටිය මැදට මට භය හිතෙයිද දන්නෑ, කියන එක කියාගන්න බැරිවෙයිද දන්නෑ, ඔය තමයි විශාරද නෑ. බුදුරජාණන් වහන්සේ කිසි කෙනෙක් ඉදිරියේ බුදුරජාණන් වහන්සේව තැතිගැන්වෙන් නෑ. දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකෙ තමාගේ නිකෙලෙස් සහිත බව දකින බුදුරජාණන් වහන්සේ එයද කිසිවෙකුට අභියෝග කළ නොහැකි බව දකින බුදුරජාණන් වහන්සේ විශාරදව, ඕනම පිරිසක් අතර කතා කරනවා. ධර්ම චක්‍රය ප්‍රවර්තනය කරනවා. බුදුරජාණන් වහන්සේ මේ ධර්මය කතා කලේ භය නැතිව. සිංහනාදයක් මේක. ඕනම තැනක, ඕනම ලෝකෙක කතා කරන්න පුලුවන් ධර්මයක්. ඇත්තටම පින්වතුනි මේ වාගේ දහමක් තුන් ලෝකයේ කොහෙද තියෙන්නෙ. මේ වගේ දහමක්, ශාස්තෘන් වහන්සේගේ අභිමානය බලන්න. ඊළඟට තියෙනවා සරණ යන්න පින්වත්නි බුදුරජාණන් වහන්සේ විශාරද ඥාණ සරණ යන්න. විශාරද ඥාණ පිහිට කරගන්න. විශාරද ඥාණ වලට වදින්න. මේවා තමයි සැබෑ ඥාණ වන්දනා. මේ ඥාණ වලට ප්‍රශංසා කරන්න. සාරිපුත්ත මහරහතන් වහන්සේ පවා - සාරිපුත්ත මහරහතන් වහන්සේ ප්‍රඥාවෙන් අග්‍රයිනෙ - සංසාරෙ කරලා තියෙන්නෙ බුදුරජාණන් වහන්සේගේ ඥාණයට ප්‍රශංසා කරලා. උන්වහන්සේ කරපු පින්වල තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේගේ ඥාණයට ප්‍රශංසා කරලා. ඊළඟට තියෙනවා පින්වතුනි, ඔය දෙවෙනි විශාරද ඥාණය. තුන්වෙනි විශාරද ඥාණය, යෝ කෝ පනතේ

අන්තරාය කදම්මාවුත්තා යේ පටිසේවතෝ නාලං අන්තරා යායාති, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා කෙනෙක් කිව්වොත් අහවල් දේ අන්තරාය කරයි, ඒ කියන්නෙ අහවල් දේ අනතුරුයි කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කලාට ඒවා සේවනය කළාට ප්‍රශ්නයක් නැත. අනතුරුයි කිව්වට ඒවා කලාට ප්‍රශ්නයක් නෑ කියලා කිසි කෙනෙකුට කියන්න පුලුවන් දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකෙ කිසිකෙනෙකුට සහධම්මිකා, කරුණු සහිතව ප්‍රතිචෝදනා කරන්න පුලුවන් අංශුමාත්‍රයක් දකින්නෑ. නිකං වාද විවාද හදලා ෆේස්බුක් වලට දාන්න පුලුවන්. එහෙම නෙවෙයි, කරුණු සහිතව කියන්න බෑ කිසි කෙනෙකුට. බුදුරජාණන් වහන්සේ අනතුරු දේ අනතුරු විදියටම වදාළා. දුශ්ශීල බව අනතුරක්. ඒක අනතුරක් නෑ කියලා කියන්න බෑ. බුදුරජාණන් වහන්සේ වදාළ සිල්පද වලට තම තමන්ට අර්ථකථන දාන්න බෑ. ඒක විශාරද ඥාණ වලට කරන අගෞරවයක්. බොහෝ කාලයක් නිරයේ පැසවන්න වෙනවා. තමන්ට කරගන්න බැරි එක වෙනම වැඩක්. නමුත් ශාසනයට ප්‍රශංසා කළ යුතුයි. තමන්ට කරගන්න බැරි එක වෙනම දෙයක්. ඒක තමන්ගේ දුර්වලතාවය. එතකොට බුදුරජාණන් වහන්සේ අනතුරුයි කියලා වදාළා දුශ්ශීලකම. බුදුරජාණන් වහන්සේ අනතුරු කියලා වදාරපු කාරණාවක් තමයි හිතේ සංසිඳීමක් නැතිව ඉන්න එක. ඊළඟට දුශ්ප්‍රාඥ බව. අවිද්‍යාවෙන් යන සසර ගමන. අනතුරු දේ විදියට වදාළා. කිසි කෙනෙකුට ඕවා ප්‍රශ්නයක් නෑ කියලා කියන්න බෑ. මොන බණද බන්, කාලා බීලා හිටපල්ලා,කිසි ප්‍රශ්නයක් නෑ, නිවන් දකිනවා කියලා එහෙම කියන්න බෑ. බුදුරජාණන් වහන්සේ වදාළා තව අනතුරුදායක දෙයක් තමයි ආදිත්තපරියාය සූත්‍රය මම ඒකට උපමාවක් විදියට ගන්නම්, උදාහරණයක් විදියට. ආදිත්තපරියාය සූත්‍රය බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, ගිනිගෙන ඇවිලෙන රත්වූ යකඩ ආයුධයකින් ඇස් අතුල්ලා ගන්නා එක සැපයි, ඒත් ඇහින් රූපයක් බලලා රාග නිශ්‍රිතව ඇලිලා ඇහෙන් රූපයක් හෝ නිමිත්තක් හෝ නිමිති මාත්‍රයක් අරගෙන ඉන්න එක හොඳ නෑ. ඒ වෙලාවේ මැරුණොත් එහෙම එක්කෝ නිරයේ යනවා, එක්කෝ තිරිසන් ලෝකයේ යනවා. ඊට වැඩිය හොඳයි යකඩ ගිනිගත්ත, ඒ වගේම දැල්වෙන ආයුධයකින් ඇහැ අතුල්ලා ගන්න එක සැපයි කියලා වදාළා. එතකොට බලන්න බුදුරජාණන් වහන්සේ ඇහෙන් රූපයක් බලලා, ඒක රාග නිශ්‍රිත වීම, ඒකෙ නිමිත්ත ආනුසාරී, ඒ කෙලෙස් ඇවිස්සෙන නිමිත්තට හෝ අනුකූඩා නිමිත්තට අනුව හිත හැසිරෙනවා. ඒ වෙලාවෙ මැරුණොත් නිරයේ හෝ තිරිසන් ලෝකෙ. බුදුරජාණන් වහන්සේ වදාළා ඊට වැඩිය හොඳයි කිව්වා

යකඩ පතුරකින් අතුල්ල ගන්න එක, යකඩ ආයුධයකින් ගිනිගත්ත. හේතුව ඒක මුල් කරගෙන නිරයේ, තිරිසන් ලෝකෙ යන්නැනෙ, බලද්දින්නෙ යන්නෙ. ඕක කල්පනා කරනකොට පොඩ්ඩක් හිතලා බලන්න මේ කොල්ලො කුරුට්ටො ටෙලිෆෝන් ඔබ ඔබා ඒවගෙන් අරමුණු අරගෙන ගිනිගෙන දැවි දැවී ඉන්න වෙලාවක මැරුණොත් කොහෙද යන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි යකඩ ගිනිගත්ත යකඩ කූරකින් ඇනගන්න එක සැපයි කණට, ඒ කණෙන් අරමුණක් අරගෙන ආශ්වාද අරමුණක් අරගෙන ඒකෙ නිමිත්ත අනුසාරීව ඉන්නවට වැඩිය, කෙලෙස් ඇවිස්සෙන. ඒකට හේතුව ඒවාගේ වෙලාවක මැරුණොත් නිරයේ, එක්කො තිරිසන් ලෝකෙ. ඉතින් ඒ නිසා දැන් ෆෝන් වලින් කතා කර කර, ජරා කතා කිය කියා ඉන්න අය කල්පනා කරන්න. ඊළඟට හිත ඇවිස්සෙන ශබ්ද, හඬවල් ගීත අහ අහා ඉද්දින් සැලකිලිමත් වෙන්න, ඒ වාගේ වෙලාවක මැරුණොත් කොහෙ යයිද කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, ගිනිගත්ත යකඩ දැල්වෙන නියනකින් නාහය රැහැගන්න එක හොඳයි, නාහෙන් ගඳ සුවඳ විඳලා, ඒ ගඳ සුවඳ කෙලෙස් ඇවිස්සෙන නිමිත්තානුසාරීව ඉන්නවට වඩා. ඒ වෙලාවට මැරුණොත් නිරයේ හෝ තිරිසන් ලෝකෙ. අර ගිනිගන්න එකෙන් නහය කැපුවා කියලා නිරයේ හරි තිරිසන් ලෝකෙ හරි යන් නෑ. බුදුරජාණන් වහන්සේ වදාළා ගිනිගත්ත යකඩ දැලි පිහියක් අරගෙන දිව රැහැගන්න එක සැපයි කිව්වා දිවෙන් රසයක් විඳලා ඒකට නිමිත්තානුසාරී විදියට, කෙලෙස් ඇවිස්සෙන විදියට මේ කෑම කාලා පෙරේත කමින් ඒකෙන් ඉන්න සිතිවිල්ලට වඩා. කයෙන් පහසක් විඳ විඳ එයින් නිමිත්තානුසාරීව ඇවිස්සී ඇවිස්සී ඉන්නවාට වඩා හොඳයි කිව්වා, දෙපැත්ත කැපෙන ආයුධයක් රත් කරලා ඒකෙන කපා ගන්න එක ඇඟ. නිරයේ යනවා, තිරිසන් එතකොට එහෙනම් කෙලෙස් සහිතව රාගයෙන් යුතුවම මේ පහසක් විඳ විඳ ඉන්න මොහොතක මැරුණොත් නිරයේ එක්කො තිරිසන් ලෝකෙ. ලේසි නෑ මේක. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, සංඝයා භේද කරන්න හිතනවාට වැඩිය හොඳයි කිව්වා නිදාගන්න එක. නිදාගන්නවා කියන්නෙ මනුස්සයාගේ ජීවිතේ වඳ බව කිව්වා. නින්ද කියන්න වඳ බව. ඒ මනුස්සයාගේ හිස් බව. නිදාගන්න එක හොඳයි කිව්වා සංඝයා භේද කරනවාට වඩා. බුදුරජාණන් වහන්සේ වදාළා නුවණින් විමසන ශ්‍රාවකයා විමසන්නේ මේ ඇස් දෙක යකඩ ආයුධයකින් රත් කරපු උලාගන්නවාට වැඩිය හොඳයි මං මේක විදර්ශනා කරනවා කියලා ඇස අනිත්‍යයි, දුකයි වෙනස් වනවා. මම නෙවෙයි, මගේ නෙවෙයි, මගේ ආත්මය නොවෙයි කියලා විදර්ශනා කරනවා. අනිත්‍ය

වශයෙන්. ඇසට පේන රූප අනිත්‍ය වශයෙන් බලනවා. විඤ්ඤාණය අනිත්‍ය වශයෙන් බලනවා. ස්පර්ශය අනිත්‍ය වශයෙන් බලනවා. ඒ ස්පර්ශය නිසා ඇතිවෙන වේදනා, සංඥා, චේතනා ආදිය ඒවා අනිත්‍ය වශයෙන් බලනවා. ඊටපස්සේ කණට උලකින් ඇනගන්නවට වැඩිය අනිත්‍යයි කියලා බලනවා. ශබ්දය අනිත්‍යයි කියලා විමසනවා. විඤ්ඤාණය අනිත්‍යයි කියලා විමසනවා. ඒ තුනේ එකතුවෙන් ස්පර්ශය අනිත්‍යයි කියලා විමසනවා. ස්පර්ශය නිසා ඇතිවෙන වේදනාව අනිත්‍යයි කියලා විමසනවා. මේ විදියට නාසය, දිව, කය, මනස අනිත්‍යය වශයෙන් දකිනවා. එහෙම දකිනකොට අවබෝධයෙන්ම කළකිරෙනවා. දියුණු කරපු ප්‍රඥාවෙන් දකිනවා. එතකොට නොඇලෙනවා, නොඇලෙනකොට නිදහස් වෙනවා. මම මේ සසරින් නිදහස් වුනා කියලා දන්නවා. කොහොමද, කොහොමද පින්වතුනි මේ භාග්‍යවතුන් වහන්සේ ඒ සත්ත්වයාව දමනය කරලා තියෙන විදිය. නිර්වාණගාමිණී ප්‍රතිපදාව දේශනා කරලා තියෙන විදිය. එතකොට මේ කාරණාවෙන් තේරුම් ගන්න ඒ තමයි, දැන් කාටවත්, ඕකට කියන්න බෑ කිසි කෙනෙකුට නෑ නෑ ඇහින් රූප බලලා රාගයෙන් හිටපල්ලා. කණෙන් ශබ්ද අහලා රාගයෙන් හිටපල්ලා මොන අපායවල් ද බං? ඔය පිස්සුද. බුදුරජාණන් වහන්සේට කරුණු සහිතව කියන්න පුලුවන් ද, නිකං කයි කතන්දර මිනිස්සු කියාගෙන යයි. නමුත් කරුණු සහිතව ඒකට අභියෝග කරන්න බෑ, බුදුරජාණන් වහන්සේ නමක් දසබල ඥාණ තුළින් පිහිටලා දේශනා කලේ, අනිත් එක ඒකාන්තයෙන් සිද්ධ වෙනවානෙ. විය හැකි දේ නොහැකි දේ දන්නා නුවණින්නේ දේශනා කරන්නෙ, කර්මය ගැන දන්නා නුවණින්නෙ දේශනා කරන්නෙ. එක එක උපත්වලට යන මාර්ගය දන්නා නුවණින්නෙ දේශනා කරන්නෙ. ඊළඟට යම්තාක් සත්ත්වයෝ නිරයේ දිව්‍යලෝකෙ ගියාද ඒ ඔක්කෝම දැක දැකනෙ දේශනා කරන්නෙ. සසර පුරාම බලලානෙ දේශනා කරන්නෙ. අනිත් එක කාටවත් තරහකට ද දේශනා කරන්නේ. නිකෙලෙස් හදවතින්නෙ දේශනා කරන්නෙ. මේ බුදුරජාණන් වහන්සේ යමක් අනතුරුයි කියලා කිව්වා නම් ඒ අනතුරුයි කිව්ව දේට අභියෝග කරන්න බෑ. බුදුරජාණන් වහන්සේ වදාළා සීල විපත්තියෙන් නිරයේ යනවා. මේ සතර අපායට වැටෙනවා, ඒ කියන්නෙ සීලයේ දෝෂ නිසා. ඒවා කාටවත් නෑ කියන්න බෑ. ඒ නිසා සීලය තියාගන්න ඕන. චිත්ත විපත්තියෙන්, තරහෙන්, ක්‍රෝධයෙන්, වෛරයෙන්, නපුරුකමින්, පළිගැනීමෙන්, ඒවා මුල් කරගෙන සතර අපායේ වැටෙනවා. චිත්ත විපත්ති, සිත දූෂ්‍ය වීම. කාටවත් ඒවා, අනේ මං හොඳට සිල් රකිනවා, තරහා ආවට ප්‍රශ්නයක් නෑ. එහෙම කියන්න බෑ.

බුදුරජාණන් වහන්සේ අනතුරුයි කියලා වදාළා. ඊළඟට තියෙනවා දිට්ඨි විපත්ති. ඒ කියන්නෙ දෘෂ්ඨිය වැරදියි. එයාගේ සීලයත් හොඳයි. ඊළඟට හිතෙත් තරහ එහෙම නෑ අහිංසකව පාඩුවෙ ඉන්න කෙනෙක්. දෘෂ්ඨි විපත්ති. එක්කො එයා හිතනවා බුදුන් උපන්නේ ලංකාවේ. එක්කෝ ලංකාවේ ඉතිහාසය වැරදියි. මහාවංශය වැරදියි. දෘෂ්ටිවලට ඇවිල්ලා. ඊළඟට මීට වැඩිය හොඳ ත්‍රිපිටකයක් එංගලන්තෙ ඇති. මොකක්හරි දෘෂ්ඨි වලට එනවා. හැබැයි හරී සිල්වත් අහිංසක කෙනෙක්. නමුත් දෘෂ්ඨිය වැරදියි. දිට්ඨි විපත්ති. එහෙනම් ඒ නිසා තමයි බටහිර මිනිස්සුන්ගේ අතර ඉන්නවා හොඳ මිනිස්සු. දන් දෙන අහිංසක තරහා ගන්නැති හොඳ මිනිස්සු බටහිර ලෝකෙ ඉන්නවා. නමුත් දෘෂ්ටි විපත්ති තියෙනවා ඒ ඇත්තන්ට. ඉතින් ඒ නිසා කාටවත් ඒවා නෑ කියලා කියන්න බෑ. බුදුරජාණන් වහන්සේ නිමිත්තක්වත් දකින් නෑ. ඒ නිසා ඔන්න තුන්වෙනි විශාරද ඥාණය. පළවෙනි විශාරද ඥාණය තමයි බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුද්ධත්වයට අභියෝග කරන්න බෑ. දෙවෙනි එක තමයි බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස් බවට අභියෝග කරන්න බෑ. තුන්වෙනි එක තමයි බුදුරජාණන් වහන්සේ අනතුරුයි වදාරපු දේ අනතුරු නෑ කියලා අභියෝග කරන්න බෑ කාටවත්. හතරවෙනි විශාරද ඥාණය තමයි යස්සකෝ පනතේ අත්ථාය ධම්මං දේසිතෝ යෝන නියාති සක්කරස්ස සම්මා දුක්ඛක්ඛ යායාති, කියනවා බුදුරජාණන් වහන්සේ දේශනා කලානෙ, යම් අර්ථයක් පිණිස ධර්මය දේශනා කලානෙ. ඒ යම් අර්ථයක් පිණිස ධර්මය දේශනා කරද්දි ඒ ධර්මය පුරුදු කරපු කෙනෙකුට ඒ ඉලක්කයට යන්න බෑ කියලා කිසි කෙනෙකුට දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකෙ කිසි කෙනෙකුට කරුණු සහිතව චෝදනා කරන්න නිමිත්තක්වත් බුදුරජාණන් වහන්සේට දකින්න බෑ බුදු ඇසින්. ඒ නිසා ඒ කිසි කෙනෙකුට තමන්ට චෝදනා කරන්න බැරි නිසා නිවන් මාර්ගයට මේ මාර්ගයේ ගමන් කරලා මේ මාර්ගඵල අවබෝධ කරන්න ධර්මය අවබෝධ කරන්න බෑ කියලා කිසි කෙනෙකුට කියන්න බෑ කරුණු සහිතව. එය දකින බුදුරජාණන් වහන්සේ ඕනම තැනක නිවන් මාර්ගය ප්‍රකට කරනවා. ඇයි කිසි කෙනෙකුට කරුණු සහිතව ඒක එහෙම නෙවෙයි කියලා කියන්න බෑ. බුදුරජාණන් වහන්සේ දසබල ඥාණ තුළ පිහිටලා දේශනා කරන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ මේ කාරණාව කෙටියෙන් ගත්තොත් එහෙම බුදුරජාණන් වහන්සේ යම් අර්ථයක් උදෙසා නම් ධර්මය දේශනා කරන්නෙ ඒ අර්ථය මේ මාර්ගය අනුගමනය කිරීමෙන් ලබාගන්න බෑ කියලා කිසි කෙනෙකුට චෝදනා කරන්න බෑ. තවත් කෙටියෙන් ගත්තොත් එහෙම බුදුරජාණන් වහන්සේ වදාළ නිවන්

මාර්ගයේ ගමන් කරලා නිවන් අවබෝධ කරන්න බෑ කියලා කිසි කෙනෙකුට චෝදනා කරන්න බෑ. පුංචිවත් කරුණක් දකින්නෑ බුදුරජාණන් වහන්සේ ඒ හතරවෙනි විශාරද ඥාණය. බුදුරජාණන් වහන්සේ යම් අර්ථයක්, සුගතියේ යෑම පිණිස ශ්‍රද්ධා, සීල, සුත, ත්‍යාග, පඤ්ඤා කියන ගුණධර්ම පහ තියෙන කෙනෙක් සුගතියේ යනවා කියලා වදාළා නම් එක එහෙමම තමයි. ඒක නෑ කියලා කියන්න බෑ කෙනෙකුට. ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගමන් කරනකොට මාර්ගඵල අවබෝධය, අමා මහ නිවන ලැබෙනවා කියලා කිව්වොත් ඒක නෑ කියලා කියන්න බෑ කිසිම කෙනෙකුට. ඒක තමයි බුදුරජාණන් වහන්සේගේ අවබෝධය. කිව්වොත් ඒක මහා භයානකයි. බුදුරජාණන් වහන්සේ නාගිත සූත්‍රයේ වදාළා පින්වත් නාගිත, කන බොන රසවිඳින දේවල්වල අවසාන ප්‍රතිඵලය අශුචි. ඒ වගේ තමයි බුදුරජාණන් වහන්සේ වදාළා නාගිත, ප්‍රියයන් එක්ක එකතු වුනොත් එහෙම, ප්‍රියයන් ආදරය කරන අය, බැඳෙන අය, ප්‍රියයන් එක්ක එකතු වුනොත් ඒ කියන්න ප්‍රියයන් හා වාසය කරද්දි ඒ ප්‍රියයන් වෙනස් වෙද්දි, වෙන් වෙද්දි, නැති වෙද්දි දුක විතරයි ඉතුරු වෙන්නෙ කිව්වා. කෑම කෑවට පස්සෙ අවසානෙ අශුචි වෙනවා කියන එක ඔයාලා පිළිගන්නවා නම්, තවත් කෙනෙකුට බැඳුනොත්, ප්‍රියමනාප වුනොත්, ආදරය වුනොත් අවසානෙ දුක විතරයි ඉතුරු වෙන්නෙ. ඒ අය වෙනස් වෙද්දි, අනිත්‍යය ස්වභාවයට පත්වෙද්දි, නැති වෙද්දි, දාලා යද්දි, අත්හරිද්දි දුක විතරයි. ඒක තමයි බුදුරජාණන් වහන්සේ වදාළ සත්‍යය. බුදුරජාණන් වහන්සේ වදාළා අසුභ භාවනාව හරියට කළොත්, එහෙම සුභ නිමිත්තේ පිළිකුළ උපදිනවා. අසුභ භාවනාව, සුභ නිමිත්ත කියලා කියන්නෙ රාගය ඇතිවෙන අරමුණ. අපේ හිතේ රාගය ඇවිස්සෙන එක එක දේනෙ රූප, ශබ්ද, ගන්ධ, රස තියෙනවානෙ. ඒවටනෙ පෙරේත වෙන්නෙ. මේ පෙරේත අරමුණු එද්දි අසුභ භාවනාව වඩපු කෙනාට පිළිකුල උපදිනවා. හරියට වැඩුවොත් කාපු බීපු දේවල් අශුචි වෙනවා කියලා පිළිගන්නවා නම් අරක අනිවාර්යයෙන් වෙනවාමයි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, ස්පර්ශායතනයන් ගැන අවබෝධ කළොත් අනිත්‍ය වශයෙන්, දුක් වශයෙන් අවබෝධ කලොත් ස්පර්ශය ගැන පිළිකුල උපදිනවා. ආයතන හය හොඳට අවබෝධ කලොත්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා පංචුපාදානස්කන්ධය හටගැනීම, වැනසීම අවබෝධ කලොත් පංචුපාදානස්කන්ධය ගැන පිළිකුල උපදිනවා. පංචුපාදානස්කන්ධය ඉපදීම ගැන පිළිකුල උපදිනවා. එතකොට බලන්න අනිවාර්යයෙන් මේක වෙන් නෑ කියලා කිසිකෙනෙකුට කියන්න බෑ. මේ මං මෛත්‍රිය වඩනවා තරහා ප්‍රහාණය

වෙන් නෑ, හරියට මෛත්‍රිය වැඩුවා නම් තරහා ප්‍රහාණය වෙනවානෙ. ඒක සිද්ධ වෙන දෙයක්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගමන් කරලා ප්‍රතිඵල ලබන්න බෑ කියලා කිසි කෙනෙකුට කියන්න බෑ. අද කාලෙ වුනත් රහතන් වහන්සේලා නොහිටින්න පුලුවන්, මාර්ගඵල ලාභීන් නොහිටින්න පුලුවන්, හැබැයි ඒක පුද්ගලයන්ගේ දෝෂයක්, පරිසරයේ, සමාජයේ දෝෂයක් මිසක්කා නිවන් මාර්ගයේවත්, ධර්මයේවත් තියෙන වැරැද්දක් නෙවෙයි. එතකොට හරියට ඒක තේරුම් ගන්න ඕන පින්වතුනි. දැන් ඔය අනුරාධපුර යුගයේ එක මනුස්සයෙක්, මගේ හිතේ ඒ මනුස්සයෙක් කියලා කිව්වට මහණ වෙලාද දන්නෑ, පැවිද්දෙක් වෙන්න ඕන. ඔහු භාවනා කලා, අසුභ භාවනාව අවුරුදු තිහක් භාවනා කලා. අවුරුදු තිහක් කරනවා අසුභ භාවනාව, මෙයාට සමාධිය ඇතිවෙන් නෑ. ඊටපස්සෙ මෙයා මොකද කලේ, අසුභ භාවනාව වඩලා සමාධිය ඇතිවෙන්නෑ එතකොට මෙයා අවුරුදු තිහකින් සිවුරු ඇරියා. සිවුරු ඇරලා කිය කියා ගියා, කෝ ඉතින් අද කාලෙ ඔය ධර්මයෙන් ප්‍රයෝජන ගන්න බෑ, අපිත් වැඩුවා කෝ. අන්න බුදුරජාණන් වහන්සේගේ විශාරද ඥාණයට අභියෝග කලා, ඒ මාර්ගය අනුගමනය කරලා ප්‍රතිඵල ලබන්න බෑ කියලා. ඒ අදහසින් මැරුණා, ඒ භාවනා කරපු තැනම ගඟේ කිඹුලෙක් වෙලා ඉපදුනා. කිඹුලෙක්. භූත කිඹුලෙක්. යකඩ ගෙනිච්ච කරත්ත පනහක්, යකඩ ගෙනිච්ච, ඒ ගඟ ළඟින් යද්දි ඒ යකඩ කරත්ත පනහ සමඟ හරක් පනහත් කාලා කිඹුලා. භූත කිඹුලෙක්. කොහොමද අවුරුදු තිහක් මහණ වෙලා හිටියා, අවුරුදු තිහක් භාවනා කලා. මොකක්ද, වැරැද්ද මොකක්ද? දෘෂ්ටිය. බුදුරජාණන් වහන්සේගේ විශාරද ඥාණයට කරපු අභියෝගය. වැරදුනු හැටි දැක්කද. ඒ නිසා පින්වතුනි හොඳට පරිස්සම් වෙන්න ඕන මේ ධර්මය කතා කරද්දි. ධර්මය තේරුම් ගන්න, මේ විශාරද ඥාණ පිළිබඳ දැනුම නැති මිනිස්සු නේද මේ. ඒ නිසා එහෙනම් බලන්න බුදුරජාණන් වහන්සේගේ නිවන් මාර්ගයේ ගමන් කරලා ප්‍රතිඵල ලබන්න බෑ කියලා කිසි කෙනෙකුට අභියෝග කරන්න බෑ. එහෙනම් දැන් විශාරද ඥාණ හතර දැන් ආපහු සිහි කරන්න. භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුදුයි. අහවල් දේ අවබෝධ කලේ නෑ කියලා සම්මා සම්බුද්ධත්වයට අභියෝග කරන්න බෑ. ඒ නිසා විශාරදයි බුදුරජාණන් වහන්සේ. දෙවෙනි එක තමයි බුදුරජාණන් වහන්සේ නිකෙලෙස්. ආස්‍රව ප්‍රහාණය කරපු කෙනෙක්. ඒ නිකෙලෙස් බවට ආස්‍රව තියෙනවා කියලා අභියෝග කරන්න බෑ කාටවත්. තුන්වෙනි කාරණාව තමයි බුදුරජාණන් වහන්සේ අනතුරුයි කියලා දේශනා කරපු ඒවා අනතුරු නෑ කියලා

කිසි කෙනෙකුට අභියෝග කරන්න බෑ. හතරවෙනි කාරණාව තමයි බුදුරජාණන් වහන්සේ යම් අර්ථයක් උදෙසා නම් ධර්මය දේශනා කලේ, එය අනුගමනය කලා කියලා ප්‍රතිඵල ලබන්න බෑ කියලා නිවන් මාර්ගයේ දහමේ තියෙන දේ අනුගමනය කලා කියලා ප්‍රතිඵල ලබන්න බෑ කියලා නිවන් මාර්ගය පිළිබඳව අභියෝග කරන්න බෑ කාටවත්. දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකෙ කිසිවෙකුට. ඉතින් බුදුරජාණන් වහන්සේ අවසානෙට දේශනා කරනවා යේ කේචි මේ වාදකතා කුතුස්සිතා යං නිස්සිතා සමණබ්‍රාහ්මණාච තථාගතං කත්වා නත්තේ භවන්ති විශාරදං වාදකතාභිවත්තිනං, යම්කිසි ශ්‍රමණ බ්‍රාහ්මණ කෙනෙක් නොයෙක් වාද විවාදයන් ඇසුරු කරමින් සිටිත් ද, ඒ වාද විවාදයන් බොහෝ දියුණු කොට සිටිත් ද, එබඳු කිසි වාද විවාදයක් ඇත්නම් ඒ සියලු වාද විවාදයන් ඉක්මවා ගිය විශාරද වූ තථාගතයන් වහන්සේ කරා පැමිණ නැති වී යයි. ලෝකයේ සියලු වාද විවාද කරගෙන ඉන්න මහාවාදී සිංහයෝ බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා සුන්නද්ධූලි වෙලා යනවා. යෝ ධම්මචක්කං අභිබුය්‍යකේවලී පවත්තෙය්‍ය සබ්බභූතානු කම්පයේ තං තාදිසං දේවමනුස්ස සෙට්ඨං සත්තා නමස්සංති භවස්සු පාරගුංතේ, සියලු සත්ත්වයන් හිතානුකම්පී වූ සකල ගුණයන්ගෙන් පිරිපුන් වූ වාදයන් මැඩලන්නා වූ යම් තථාගත කෙනෙක් ධර්ම චක්‍රය ප්‍රවර්තනය කෙලේද භවයේ එතෙරට ගිය දෙව් මිනිස්සුන්ට ශ්‍රේෂ්ට වූ එබඳු තථාගතයන් හට ලෝක සත්ත්වයෝ වන්දනා කරති. හිතානුකම්පිව ධර්මය දේශනා කරන, සසර කතරින් එතෙරට යන්න දෙව් මිනිස්සුන්ට මග කියලා දෙන ඒ බුදුරජාණන් වහන්සේට බ්‍රහ්මයාගේ පටන් සකල ලෝක වල මිනිස්සු වන්දනා කරනවා, සත්ත්වයෝ වන්දනා කරනවා. බුදුරජාණන් වහන්සේගේ විශාරද බව. ඒ නිසා ඔබත් සිව් විශාරද ගුණයෙන් සමන්විත බුදුරජාණන් වහන්සේ සරණ යන්න. විශාරදව දේශනා කරපු ධර්මය සරණ යන්න. ඒ ධර්මය අවබෝධ කරපු සඟරුවන සරණ යන්න. දිවි හිමියෙන් සරණ යන්න. නිවන් දකිනා මොහොත දක්වාම සරණ යන්න. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුද්ධත්වයට අභියෝග කරන්න බෑ. නිකෙලෙස් බවට අභියෝග කරන්න බෑ. උන්වහන්සේ අනතුරුයි කියපු දේවල් නෑ කියලා අභියෝග කරන්න බෑ. උන්වහන්සේ නිවන් මාර්ගය වැරදියි කියලා අභියෝග කරන්න බෑ. ඒ විශාරද ගුණ බුදුන් වදිද්දින්, සෑය බෝධිය වදිද්දින් සිහි කරන්න. කොච්චර නම් බුදුගුණ සිහි කරන්න තියෙනවාද. ඒ උතුම් සිව් විශාරද ඥාණයෙන් සෝබමාන වූ, තේජමාන වූ ගෞතම නම් වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණ ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් පින්වතුනි, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ අද රාජාංගණය, යාය හතර, කලා ඔය යන ලිපිනයේ පදිංචි පින්වත් දැනට ක්වේට් හි සේවය කරන පින්වත් එච්.ඒ.සී. සඳකැළුම් මහත්මයා විසින්. ඉතින් මෙතුමා රැස් කරගත්ත මේ පින ධර්ම දානයේ පින ඉතින් අපි කවුරුත් රැස් කරගත්ත පින, බුදුරජාණන් වහන්සේගේ සිව් විශාරද ඥාණයෙන් යුක්තයි, සිව් විශාරද ඥාණයෙන් යුක්ත, තුන් ලෝකයට අග්‍ර වූ, තථාගත බුදුරජාණන් වහන්සේගේ අනන්ත ආනුභාවයෙන් ලක්දෙරණටත්, ලෝකටයත් ව්‍යසනයක් වුනු මේ වසංගතය දුරින්ම දුරු වේවා. මනුස්ස වර්ගයාට යහපත සැනසිල්ල වේවා. බයක් සැකක් රෝග පීඩාවක් නැතිව සුවසේ වාසය කරන්න ආශිර්වාද සැලසේවා. ඒ වගේම සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙලා මේ පින්වතුන් සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම සිව් විශාරද ඥාණ කියන ඒවා අපිට අහන්න මේ විදියට විස්තර විභාග කරගන්න අපිට ලැබුනේ පින්වත් පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ මෑත යුගයේ සරල සිංහලෙන් මේ ධර්මය අපිට කියලා දීලා මේ ශාසන දායාදය අපිට ලබලා දුන්නු නිසා. ඒ නිසා පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ ලබත්වා කියලා පින් පමුණුවමු. පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේත්, ඒ වගේම සියලුම ස්වාමීන් වහන්සේලාත්, ඒ වාගේම අනගාරිකා මෑණිවරුනුත්, පැවිදි අපේක්ෂක දූ පුතුනුත් සියලු දෙනාට මේ පින් බලයෙන් විශාරදව භාග්‍යවතුන් වහන්සේ වදාළ ධර්මය අවබෝධ කරගන්න වාසනාව ලැබේවා. ඒ වගේම වසර මේ පින්වතුන් බලාපොරොත්තු වෙනවා වසර දෙකහමාරකට පෙර මියපරලොව ගිය එච්.ඒ. දයානන්ද පියාණන්ට මේ පින් අනුමෝදන් වේවා කියලා. ඉතින් දයානන්ද පියාණන්ට මේ පින් අනුමෝදන් වේවා. ඒ වගේම මියපරලොව ගිය ඊ.කේ. මියුරින් නෝනා ආච්චීට සහ සුසන්ත ප්‍රදීප් සහෝදරයාට මේ පින් අනුමෝදන් වේවා, මියපරලොව ගිය සියලු ඥාතීන්ට පරලොව සැපය වේවා කියලා පින් පමුණුවමු. සුජීවත්ව සිටින කේ.ඩී. සෝමලතා මෑණියන්ට නිදුක්, නිරෝගී, සුවපත් භාවය සැලසේවා, ඒ වගේම ක්වේට් වල සේවයේ යෙදෙන එච්.ඒ.සී. සඳකැළුම් මහත්මයාට මේ පින් අනුමෝදන් වී නිදුක්, නිරෝගී, සුවපත්භාවය, සියලු ආරක්ෂාව රැකවරණය සැලසේවා. ඒ වගේම අද දවසේ උතුම් ධර්ම දානයෙන් රැස් කරගත්ත මේ අප්‍රමාණ පුණ්‍ය සම්භාරයෙන් අනුහසින් ඔබ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා. ඒ වගේම මව්

දෙමව්පිය, ඥාතිබන්ධුමිත්‍රාදීන්ට, ගුරු භවතුන්ට, ඔබ කාටත් මේ පින් අනුමෝදන් වේවා. ලක්විරු ගුවන්විදුලියේ, ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ දරුවන්ට, ඒ වගේම මාධ්‍යය පවත්වාගැනීම සඳහා උපකාර කරන සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් සිව් විශාරද ඥාණයෙන් සෝබමාන වූ, උන්වහන්සේගේ සම්මා සම්බුද්ධත්වයට අභියෝග කරන්න බෑ ඒ කරුණින් උන්වහන්සේ විශාරදයි. උන්වහන්සේ නිකෙලෙස්, නිකෙලෙස් බවට අභියෝග කරන්න බෑ, ඒ කරුණින් විශාරදයි. අනතුරුයි කියලා වදාළ දේ අනතුරුමයි, නෑ කියලා අභියෝග කරන්න බෑ. උන්වහන්සේ පෙන්වූ නිවන් මාර්ගයේ ගමන් කරලා ප්‍රතිඵල ලබන්න පුලුවන්, නෑ කියලා අභියෝග කරන්න බෑ. ඒ සිව් විශාරද ඥාණයන්ගේ අනුහසින් විශාරදව දෙසූ ඒ ධර්මය අවබෝධ කරගන්න අපිට ලැබේවා. සිව් විශාරද ඥාණයෙන් අසිරිමත් සම්බුදු සරණ අපි කාටත් සැලසේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=WCcWfWJcYBo&list=PLaIyA_suCnHx15brN1U__Cvr dIW8GMhnA&index=32

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

පින්වතුනි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් අපි සරණ ගිය අපේම සම්මා සම්බුදුරජාණන් වහන්සේ ගැන අපි මේ ඉගෙන ගන්නෙ.

බුදුරජාණන් වහන්සේ ගැන ඉගෙන ගන්න එක, බුදුරජාණන් වහන්සේගේ ගුණ ඉගෙන ගන්න එක, අහන එක පින්වතුනි මිය යන මොහොත දක්වාම කලත් එයම ඒ ශ්‍රාවකයාට යහපත පිණිස පවතිනවා. මොකද බුදුරජාණන් වහන්සේ පරම විරාගී නිසා, වීතදෝෂී, වීතමෝහී නිසා කෙලෙස් සහිත හදවතට ඒ බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ සිතීම හරියට බොරවෙලා තියෙන වතුරකට උදක ප්‍රසාදනීය මාණික්‍යය දානවා වගේ. උදක ප්‍රසාදනීය මාණික්‍යය බොරවෙච්චි වතුරට දැම්මට පස්සේ බොර හිඳිලා නිල්කැට වතුර මතුවෙනවා. ආන්න ඒ වගේ මේ කෙලෙස් වලින් ඇවිස්සුනු හිතට බුදුරජාණන් වහන්සේ වගේ උතුම් පරම වීතරාගී, වීතද්වේෂී, වීතමෝහී උත්තමයෙක් ගැන හිතනකොට ඒ හිතට හරී පිරිසිදු බවක්, පවිත්‍ර බවක් ඇතිවෙනවා. සිතිවිලි වලින් කිලිටි වුනු හිත සිතිවිලි වලින්ම පිරිසිදු කරන්න ඕන. ඕකයි මේ ලෝක තියෙන්නෙ. ඉතින් ඒ නිසා අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන ඉගෙනගන්න එක ඔබට ඒ ධර්ම දේශනාව ශ්‍රවණය කරන එක ඔබට බොහෝ යහපත පිණිස පවතිනවා. අද මේ උතුම් ධර්ම දේශනාව ශ්‍රද්ධා රූපවාහිනියේත්, ඒ වගේම ලක්විරු ගුවන් විදුලියේත් විකාශනය කරවන්න දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ සිඩ්නි නුවර පදිංචි පින්වත් ලිලානි විජේරත්න මහත්මිය, ඒ වගේම සංජීවනී අඹගහවත්ත මහත්මිය, කුමුදුනී කුමාරසිරි මහත්මිය සහ කලණ මිතුරු මිතුරියන් එකතු වෙලා. එතකොට මේ පින්වතුන් පිරිස බොහෝ යහපතක් සිද්ධ කරගන්නවා, බොහෝ පිනක් රැස් කරගන්නවා තමන්ගේ ජීවිතයට මේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය ශ්‍රවණය කිරීම තුළින්. ඉතින් පින්වත්නි මේ ධර්ම දානය ලබාදීම ඔබට බොහෝ කාලයක් යහපත පිණිස පවතිනවා. අද අපි ඉගෙන ගන්නේ බුදුරජාණන් වහන්සේගේ හරී අසිරිමත් ඥාණයක් ගැන. ඥාණයක් කියන්නෙ අද අපි ඉගෙන ගන්නේ ෂඩ්අසාධාරණ ඥාණ, ඉතින් අපිට ඥාණ හයක් තියෙනවා බුදුරජාණන් වහන්සේටම විශේෂ, ශ්‍රාවකයන්ට සාධාරණ නොවූ, බුදුරජාණන් වහන්සේටම සාධාරණ වූ ඥාණ හයක් තියෙනවා. ඒකට කියනවා ෂඩ්අසාධාරණ කියලා. දැන් පින්වතුනි මේ වාගේ දේවල් ඉගෙන ගන්න ලැබෙන එක පුදුම සහගත භාග්‍යයක්. ඉතින් අපිට ඒ ඥාණ හයම අද කතා කරගන්න බැහැ, එච්චර විස්තර තියෙනවා. සමහර ඥාණ ඉගෙන ගන්නකොට පුදුම සහගත හිතෙනවා. අනේ අපේ ශාස්තෘන් වහන්සේ මෙවැනි වූ ඥාණයන්ගෙන් යුක්තයිනේ කියලා. ඉතින් විශේෂයෙන්ම සිහිපත් කළ යුතු දෙයක් තියෙනවා මේ සියලුම ලාභය, දැන් මැතභාගයේ අපිට මේ භාග්‍යය ලොකු ස්වාමීන්

වහන්සේ නිසා ලැබුනා. එතකොට සමස්ථයක් වශයෙන් ගත්තොත් මේ ලක්දෙරණට මේ සියලු භාගයය උදාවුනේ අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේ නිසා. මිහිඳු මහරහතන් වහන්සේ ලංකාවට වැඩම කරන්නට නොලැබුනා නම් මේ ලංකාවේ මිනිස්සු ම්ලේච්ඡ ජාතියක් විදියට ඔහේ මැරිලා අද වෙනකොට කොයිවාගේ තත්ත්වයක් තියෙයිද දන් නෑ. සංසාරෙට වැටුනු අසරණ අපිට මොකාක් වෙයිද දන් නෑ. මේ සියලුම ධර්මය මිහිඳු මහරහතන් වහන්සේ තමාගේ චිත්ත සන්තානයේ දරාගෙන ලංකාවට වැඩම කලේ. මහා ධර්ම ධාතුවක් දරාගෙන මිහිඳු මහරහතන් වහන්සේ වැඩියේ. ඉතින් මිහිඳු මහරහතන් වහන්සේ නිසා තමයි මේ සියලුම ධර්මය අපි ලංකාවේ අද කතා කරන්නෙ. ලංකාවේ විතරක් නෙවෙයි, ලෝකයේම. මොකද ලෝකයේම ධර්මය නැතිවෙලා ගිහිල්ලා ලංකාවේ ග්‍රන්ථාරූඪ කරන ලද ධර්මය තමයි ලෝකෙට අරන් ගියෙ. ඒ නිසා මිහිඳු මහරහතන් වහන්සේ නිසා තමයි අද මේ මුලු පෘථිවියේම ධර්මය තියෙන්නෙ. මේ ගෞතම බුද්ධ ශාසනයේ අසහාය මහා ධර්ම දූතයාණන් වහන්සේ අනුබුදු මිහිඳුමහරහතන් වහන්සේයි. ඉතින් මිහිඳු මහරහතන් වහන්සේට අප්‍රමාණ නමස්කාර උපහාර වේවා කියන අදහසින් අපි මේ ධර්මය කතා කරන්නෙ. ඉතින් මිහිඳු මහරහතන් වහන්සේ විසින් වදාළ, මිහිඳු මහරහතන් වහන්සේ මතකයෙන් දරාගෙන එන දහම් පරියායක් තියෙනවා. ඒකට කියනවා පටිසම්භිදාමග්ග ප්‍රකරණය කියලා. එහි තියෙනවා මේ ෂඩ්අසාධාරණ ඥාණ විස්තර කරලා. මම හිතුවා එයින්ම ඔබට ඒක විස්තර කළොත් හොඳයි කියලා. මේ පිළිවෙලට බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුණ කඳ ඉගෙන ගන්න ලැබෙන එකෙන් ප්‍රයෝජන ගන්න ඕන. බුදුරජාණන් වහන්සේට තියෙන ෂඩ්අසාධාරණ ඥාණ තමයි, ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය, ආසයානුස ඥාණය, යමක මහාප්‍රාතිහාර්ය ඥාණය, ඊළඟට මහාකරුණා සමාපත්ති ඥාණය, අනාවරණ ඥාණය, සබ්බඤ්ඤුථ ඥාණය. මේ ඥාණ හය තමයි ෂඩ්අසාධාරණ ඥාණ කියන්නෙ. ආයෙ සැරයක් ඔබට මතකද කියලා බලන්න. ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය, ආසයානුසය ඥාණය, යමක මහාප්‍රාතිහාර්ය ඥාණය, මහා කරුණාසමාපත්ති ඥාණය, අනාවරණ ඥාණය, සබ්බඤ්ඤුත ඥාණය. මෙන්න මේ ඥාණ හය තමයි ෂඩ් අසාධාරණ ඥාණ කියලා කියන්නෙ. එතකොට මේක ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකට පමණයි මේ ඥාණ හය සාධාරණ වෙන්නෙ. මේක පුදුම සහගත ඥාණ හයක්. එතකොට දැන් අපි ගත්තොත් වෙනත් ඥාණ පෙරජීවිත බැලීමේ ඥාණය, උස් පහත්කම් වශයෙන් ශ්‍රාවකයන්ටත් පිහිටනවා. චුතූපපාත

ඥාණයත් උස්පහත්කම් වශයෙන් පිහිටනවා. ආසවක්ඛය ඥාණයත් ශ්‍රාවකයන්ට පිහිටනවා. දිබ්බචක්ඛු ඥාණය, දිබ්බසෝත ඥාණය, චේතෝපරිය ඥාණය, මේ ඍද්ධිවිධ ඥාණය, මනෝමය ඍද්ධි ඥාණය මේ ඔක්කොම ශ්‍රාවකයන්ටත් පිහිටනවා. මේ ඥාණ බුදුරජාණන් වහන්සේට පමණයි. දැන් ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය කියලා කියන එක මේ වගේ එකක්. ඒ තමයි කතමං තථාගතස්ස ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණං, මොකක්ද මේ තථාගතයන් වහන්සේට තියෙන ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය. ඉද තථාගතෝ සත්තේ පස්සති, බුදුරජාණන් වහන්සේ මේ සත්ත්වයාව දකිනවා අප්පරජක්ඛේහි, කෙලෙස් අඩු අය කෙලෙස් අඩු අය විදියට දකිනවා. මහාරජක්ඛේහි, මහා කෙලෙස් දූහුවිලි ගොඩායි. ඒ කියන්නෙ ගොඩාක් කෙලෙස් තියෙන අය දකිනවා. දික්ඛින්ද්‍රියේ, ඉඳුරන් තියුණු අය. මුදින්ද්‍රියේ, ඉඳුරන් මෘදු අය දකිනවා. සවාකාරේ, සුන්දර හදවත් තියෙන අය දකිනවා. දවාකාරේ, චපල හිත් තියෙන අය දකිනවා. සුවිඤ්ඤාපයේ, යමක් ඉක්මණට කිව්වට පස්සෙ හොඳට තේරුම් ගන්න පුලුවන් අය දකිනවා. ඊළඟට දුවිඤ්ඤාපයේ, යමක් කියලා තේරුම් කරගන්න හරී අමාරුයි, තේරුම් ගන්නෙ හරී අමාරුවෙන්. ඒ වාගේ අයත් දකිනවා. අප්පේකච්චේ පරලොක වජ්ජභයදස්සාවිනෝ, සමහරක් අය ඉන්නවා පරලෝකෙ භය දකිනවා, සසර භය, අපා භය, පරලෝක භය දකිනවා. අප්පේකච්චේන පරලොක වජ්ජභය දස්සාවිනෝ. සමහර අය ඉන්නවා පරලොක භය දකින්නෙ නෑ. ඔන්න ඔය මිනිස්සුන්ගේ ලෝක සත්ත්වයාගෙම තියෙන ඔය ස්වභාවය, බුදුරජාණන් වහන්සේ දකිනවා. මේ ඔක්කොම තියෙන්නෙ ඉන්ද්‍රිය ධර්මත් එක්ක. කුමන වූ ඉන්ද්‍රිය ධර්මයක්ද, ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා කියන ධර්මයත් එක්ක. අපි ගත්තොත් දැන් යම්කිසි කෙනෙකුට ශ්‍රද්ධාව තියෙනවා නම් එයා කෙලෙස් අඩු කෙනෙක් විදියට බලන්නෙ, අප්පරජක්ඛ. අශ්‍රද්ධාවන්තයි නම් කෙලෙස් වැඩි කෙනෙක් විදියට එයාව දකින්නෙ. ඒකට කියනවා මහාරජක්ඛ. දැන් බලන්න ශ්‍රද්ධාව හිතේ පිහිටවා ගැනීමෙන් කොච්චර කෙලෙස් අඩු වෙනවාද කියලා. එතකොට ඒ ශ්‍රද්ධාවන්ත ශ්‍රාවකයා දෙස බුදුරජාණන් වහන්සේ බලනකොට කෙලෙස් අඩු කෙනෙක් විදියට පේනවා. ඊටපස්සෙ ශ්‍රද්ධා, විරිය. වීර්යය ආරද්ධවීර්ය තියෙන කෙනා කෙලෙස් අඩු චරිතයක්. ආරද්ධ විරිය නැති කුසීත කෙනා කෙලෙස් වැඩි චරිතයක්. ඒ ගණයට වැටෙන්නෙ. ඊළඟට සිහිය, උපට්ඨිත සතිය තියෙන කෙනා, පිහිටි සිහිය තියෙන කෙනා කෙලෙස් අඩු කෙනෙක් විදියට. ඊළඟට සිහි මුලාවෙච්ච කෙනො කෙලෙස් වැඩි කෙනෙක්

විදියට. ඊළඟට අසමාහිත, හිත විසිරලා ගිය හිත අසමාහිත කෙනා කෙලෙස් වැඩි කෙනෙක් විදියට, සිත සමාහිත කෙනා කෙලෙස් අඩු කෙනෙක් විදියට බුදුරජාණන් වහන්සේගේ අප්පරජක්ඛ, මහාරජක්ඛ කෙලෙස් අඩු වැඩි අය දකින නුවණින් දකිනවා. ඊළඟ ඉන්ද්‍රියන් මෘදු අය තමයි ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා කියන ඒවා මෘදු අය. ඉන්ද්‍රියන් තියුණු අය තමයි ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා කියන ඉන්ද්‍රියන් තියුණු අය. තියුණු ඉන්ද්‍රියන් තියෙන අය. ඊළඟට දැන් බුදුරජාණන් වහන්සේ මේ ඔක්කෝම දකින්නෙ මොකෙන්ද, ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණයෙන්. සවාකාරයේ, ගවාකාරයේ. සුන්දර හිත් තියෙන අය දකිනවා. ශ්‍රද්ධාව තියෙනවා නම් ඒ හිත සුන්දරයි. කල්‍යාණ හිතක්. ඊළඟට වීර්යය තියෙනවා නම් සුන්දර හදවතක්. සිහිය තියෙනවා නම් සුන්දර හදවතක්. සිත එකඟ වෙනවා නම් සුන්දර හදවතක්. ප්‍රඥාව, නුවණ තියෙනවා නම් සුන්දර හදවතක්. දවාකාරයේ, චපල හදවත්. අශ්‍රද්ධාව, ශ්‍රද්ධාව නැත්නම් අශ්‍රද්ධාව තියෙන හිත නොයේක් ආකාර ස්වභාවයෙන් කැරකෙන හිතක්. චපල හිතක්. ඊටපස්සෙ වීර්යය නැති හිත, සිහිය නැති, ප්‍රඥාව නැති හිත, සමාහිත නැති හිත්, දවාකාරයේ, අසුන්දර චපල හිත් තියෙන අය, ඍජු නෑ. ඊළඟට සුවිඤ්ඤාපයේ, දුවිඤ්ඤාපයේ. යමක් තේරුම් කරන්න පුලුවන් අය පේනවා බුදුරජාණන් වහන්සේට, යමක් තේරුම් කරන්න අමාරු අය පේනවා. එතකොට තේරුම් කරන්න පුලුවන් චරිත තමයි යම් කිසි කෙනෙක් තුළ ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා කියන ගුණධර්ම පිහිටලා තියෙනවා නම් එයාට යමක් පහසුවෙන් තේරුම් කරන්න පුලුවන්. ඊළඟට අශ්‍රද්ධාව නම් තියෙන්නෙ, කුසීත කම නම් තියෙන්නෙ ඊළඟට හිතේ අසමාහිත කම නම් තියෙන්නෙ, අසිහිය නම් තියෙන්නෙ, ඊළඟට මෝඩ කෙලතොලු ගතියක් නම් තියෙන්නෙ එයාට තේරුම් කරන්න, බොළඳ චරිත වලට තේරුම් කරන්න අමාරුයි, බොළඳකම තරම් මනුස්සයාට තියෙන අයහපතක් තියෙනවාද තව. දුශ්ප්‍රාඥ බව, බොළඳයි. පොඩි දේටත් හඬාගෙන, පොඩි දේටත් වැළපීගෙන, පොඩි දේටත් ලෝකෙ මානසිකව කඩාගෙන වැටිලා, පොඩි දේටත් භය තැතිගැනීම් අරගෙන ඔහේ වාසය කරනවා මනුස්ස ලෝකය නිරයක් කරගන්නවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දකිනවා යමක් තේරුම් කරන්න පුලුවන් බව, තේරුම් කරන්න බැරි බවත්. ඊළඟට බුදුරජාණන් වහන්සේ දකිනවා අප්පේකච්චේ පරලෝක වජ්ජ භය දස්සාවිනෝ, පිරිසක් ඉන්නවා පරලෝක භය, සසර භය, අපා භය, භවයට තියෙන භය, මේවා දකින පිරිස ඉන්නවා, භය නොදකින පිරිස ඉන්නවා. එතකොට බුදුරජාණන් වහන්සේ දකිනවා මේ පිළිබඳව, ඒ ලෝකෙට

තියෙන භය. දැන් ලෝකය ගත්තොත් එහෙම සසරට ගන්නවා මේ සියලු ලෝක ධාතු. ඊළඟට පඤ්චුපාදානස්කන්ධ ලෝකය, ආයතන ලෝකය, ඊළඟට මේ විදියට නොයෙක් තියෙනවානෙ ලෝක. එතකොට මේ ලෝක වලට තියෙන භය. දැන් සසරේ යන්න මේ කෙලෙස් ඇතිවෙන ස්වභාවයට හිතේ බය උපදින්න ඕන කියනවා පින්වතුනි සාමාන්‍යයෙන් තමාව මරන්න කෙනෙක් කඩුව උස්සනකොට, කඩුව උස්සලා තමන්ට ගහන්න හදනකොට භයක් එනවානෙ, ආන්න ඒ භය සසරට තියෙන කෙනා තමයි පරලෝක භයදස්සාවී කියන්නෙ. ඒ වාගේ අය තමයි කියනවා ඉක්මණට නිවන් දකින්නෙ. සසරට භය තියෙන. දැන් මිනිස්සු කිසී සසරට බයක් උපදින් නෑනෙ මේ හිත් තුළ. සසර ගමන ගැන කිසිම තැකීමක් නෑනෙ. සසරට වැටුනොත් ඉවරයි කියන එක හිතෙන් නෑනෙ. ආයෙ කවදා බුදු කෙනෙක් මුණ ගැහෙන්න ද. ආයෙ කවදා ශ්‍රී සද්ධර්මයක් අහන්න ද. ඒවා මනුස්සයන්ට හිතෙන් නෑනෙ. ඇයි ඒ හිතෙන් නැත්තෙ? ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා කියන ඉන්ද්‍රිය ධර්මයෝ හිත් තුළ පිහිටලා නෑ. එතකොට පරලෝක භය දකින් නෑ ඒ නිසා. පරලෝක භය දකින්න නම් ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා කියන ගුණධර්ම පිහිටන්න ඕන. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා මේ විදියට ඒ බුදුරජාණන් වහන්සේගේ ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණයෙන් මේ ඔක්කෝම දකිනවා. ඉති ඉමස්මිංච ලෝකෙ ඉමස්මිංච වජ්ජේ, මේ ලෝකයේ වැරදි ගැන තිබ්බාභය සඤ්ඤා පච්චුපට්ඨිතා හෝති, තියුණු භයක් උපදිනවා කියනවා ඉන්ද්‍රිය ධර්ම වැඩිච්ච කෙනාට. සෙය්‍යතාපි වුක්කිතකායිකේ වදකේ, හරියට වධකයෙක් කඩුවක් උස්සගෙන ඉන්නකොට, උස්සලා ගහන්න හදනකොට ඇතිවෙන භය වගේ. ඉමේහි පඤ්ඤාසාය, ඊළඟට ආකාරේහි, මේ ආකාරයෙන්, ඉමාහි පන්චේන්ද්‍රියානි ජානාති, මේ ආකාරයෙන් මේ විදියට ඉන්ද්‍රිය ධර්මයන් ගැන දන්නවා, පස්සති, දකිනවා. අඤ්ඤාති, අවබෝධ කරනවා. පටිජ්ජති, ප්‍රතිවේද කරනවා. එතකොට බුදුරජාණන් වහන්සේ දකිනවා තමන් ළඟට එනකෙනාගෙ ඉන්ද්‍රිය ධර්ම වල තියෙන ස්වභාවය. මේක තමයි ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය. මෙයා සසරට භය උපද්දවන්න පුලුවන් කෙනෙක් ද, සසරට භය උපද්දවන්න බැරි කෙනෙක් ද, මෙයාගේ ඉන්ද්‍රියන් මෝරා යන කෙනෙක් ද, ඉන්ද්‍රියන් මෝරා යන්නෙ නැති කෙනෙක් ද, මෙයාට ධර්මය පිහිටන කෙනෙක් ද, නැති කෙනෙක් ද, මේ ඔක්කෝම කෙනෙක් දැක්ක ගමන් බුදුරජාණන් වහන්සේට කියන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේ මේ ලෝකයේ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ මේ ලෝකයේ සත්ත්වයන්ගේ ඉන්ද්‍රියන්ගේ අඩු වැඩි බව දකින

ඥාණයකින් යුතුයි. ඒකට කියනවා ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය. ඔය ස්වභාවය ඔය විදියට, ශ්‍රාවකයන් වහන්සේලාට නෑ. දැන් අපි ගත්තොත් එහෙම සාරිපුත්ත මහරහතන් වහන්සේ ප්‍රඥාවෙන් අග්‍ර ඒ සාරිපුත්ත මහරහතන් වහන්සේගේ හිටියා යහළුවෙක්, ඒ කියන්නෙ දායකයෙක්, දායකයෙක් කියන්නෙ උන්වහන්සේට කැමැති පුරුෂයෙක්, හැබැයි කිසි පිනක් දහමක් කරන් නෑ වැඩ. සාරිපුත්ත මහරහතන් වහන්සේ විටින් විට කිව්වා පින් දහම් කරන්න, කුසල් දහම් කරන්න, මේ ජීවිතේ අනිත්‍යයි කියලා හිතන්න කියලා. ඒ මනුස්සයා ඒවා හිතුවෙ නෑ, වැඩ වැඩියි. මේ මනුස්සයා ලෙඩවෙච්ච තැන ඔන්න ඇඟපත හොල්ලගන්න බැරිව ඇඳට වැටුනා. හොඳටම අමාරු වුනා. ඇඟ දනවා දැන්. ඊටපස්සෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ ඒ ගෙදරට වැඩියා, දවල් දානෙ. ඊටපස්සෙ කිව්වා කොහොමද උපාසකය ඉවසන්න පුලුවන් ද, අනේ ඉවසන්න අමාරුයි, ඇඟ දනවා, ගිනිදැල් පේනවා කිව්වා. එතකොට සාරිපුත්ත මහරහතන් වහන්සේ දැන ගත්තා, මෙයාගේ හිත පිහිටලා තියෙන්නේ නිරයේ. ඊටපස්සෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ වදාළා බලන්න උපාසකය මේ නිරයේ තියෙන මහා දුක් කන්දරාවත් එක්ක බලනකොට තිරිසන් ලෝකයකෝටියෙන් සම්පතයි. තිරිසන් ලෝකයම හොඳයි කියලා තිරිසන් ලෝකය ගැන කිව්වා. එතකොට තිරිසන් ලෝකයේ එතකොට අරයා කිව්වා ඒක නම් ඇත්ත ස්වාමීනී මට දැන් තිරිසන් ලෝකෙ පේනවා කිව්වා. දැන් සතා සීපාවා එතන පේනවා. එතකොට සාරිපුත්ත මහරහතන් වහන්සේ දැන ගත්තා දැන් මෙයාගෙ හිත තිරිසන් ලෝකෙ පිහිටලා තියෙන්නෙ. ඊටපස්සෙ කිව්වා තිරිසන් ලෝකෙ කොයිතරම් දුකක් තියෙනවාද කියලා තිරිසන් ලෝකෙ දුක් කන්දරාව විස්තර කරලා ඕකට වැඩිය කෝටියෙන් සම්පතක් පෙරේතයෙක් වෙලා ඉපදෙන එක, මොකද කැහි හොටු කාලා හරි ජීවත් වුනහැකි, තවත් කෙනෙක්ගේ පිනෙන් සැපවත් වෙන්න හරි පුලුවන්. දැන් මෙයාට පෙරේතයො පේනවා. ඊටපස්සෙ කිව්වා මේ පෙරේත ලෝකයේ සතර අපායට නම් බුදුරජාණන් වහන්සේ වදාළේ කොච්චර දුක් කන්දරාවක් තියෙනවාද, ඊට වැඩිය හොඳයි මනුස්ස ලෝකෙ කියලා අර ලෝක ගැන විස්තර කරන් ගියා. මනුස්ස ලෝකෙ තියෙනා දුක් කන්දරාව දිහා බලනකොට ඊට වැඩිය හොඳයි නේද දිව්‍ය ලෝකෙ. කියලා දැන් දිව්‍ය ලෝකය විස්තර කලා. දැන් මෙහෙම හිත ක්‍රමානුකූලව, ක්‍රමානුකූලව යනකොට දැන් දෙවිවරු පේනවා. දැන් සාරිපුත්ත මහරහතන් වහන්සේනෙ අවවාද කරන්නෙ. හැබැයි මෙයාගෙ තියෙන කීකරුකම තමයි සාරිපුත්තයන් වහන්සේ කියන විදියට හිත ගන්නවා.

ඊටපස්සෙ හිත ඔහොම්මම වඩලා, වඩලා, වඩලා, ඊටපස්සෙ වදාළා මේ තියෙන පංචකාමය සහිත මේ කාමලෝකයේ උපත හරී දුක් සහිතයි. ඊට වැඩිය හොඳයි හිත සමාධිමත් කරලා බ්‍රහ්මලෝකයේ උපදින එක. බ්‍රහ්මලෝකයේ හිත ශාන්තයි, මේ හිත විතක්ක, විචාර, පීති, සුඛ, ඒකාග්ගතා සහිත ධ්‍යාන සැප විඳින තැනක් කියනකොට, එහෙම කියනකොට ඒ වචනත් එක්ක හිත එකඟ වෙලා, දැන් හිත සමාධිමත් වෙලා, ධ්‍යාන සැපයට පත්වෙලා. දැන් මෙයාගෙ හිත හොඳට ධ්‍යාන සුවයෙන් වාසය කරනවා. කොහොමද හිටියෙ? ගිනිදැල් පෙනි පෙනී හිටියෙ. දැන් සාරිපුත්ත මහරහතන් වහන්සේට හිතුනා දැන් හොඳටම ප්‍රමාණවත් කියලා සාරිපුත්ත මහරහතන් වහන්සේ නැගිටලා වැඩම කලා, එතකොටම ටික වෙලාවකින් අර පුද්ගලයා මැරිලා බ්‍රහ්ම ලෝකෙයේ ඉපදුනා. එතකොට බලන්න අර නිරයේ යන්න හිටපු කෙනෙක්. ඉතින් බුදුරජාණන් වහන්සේ වඩිනකොට ඇයි සාරිපුත්ත එතනින් එහාට හික්මෙව්වේ නැත්තෙ? එතනින් එහාට හික්මෙව්වා නම් සාරිපුත්ත ඔය පුද්ගලයා ධර්මය අවබෝධ කරනවා කියලා කිව්වා. ආන්න බලන්න ශාස්තෘන් වහන්සේට තමයි එතනින් එහා පේන්නෙ. එතකොට එයාගෙ ඉඳුරන් වල ස්වභාවය කොහොමද කියලා තේරෙන්නෙ බුදුරජාණන් වහන්සේට. ඉතින් එපමණකිනුත් ඉතින් යහපතක් සිද්ධ වුනා. ඉතින් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේට කෙනෙක් දමනය කරන්න ලැබුනොත් එයා දමනය වෙලාම තමයි නවතින්නෙ. බුදුරජාණන් වහන්සේගේ ඒ දකින ඥාණය. මේ ඥාණයට මොකක්ද කියන්නෙ, ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය. ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා ඉන්ද්‍රියන් අඩු වැඩි වශයෙන් සත්තවයාගේ තුළ පිහිටලා තියෙන ආකාරය බුදුරජාණන් වහන්සේ දකිනවා. ඊට අනුව තමයි ඉන්ද්‍රියන්ගේ තියුණු මෘදු බව දැනෙන්නෙ, කෙලෙස් අඩු වැඩි බව තේරෙන්නෙ, ඊටපස්සේ පරලෝකයේ භය පේනවාද නැද්ද කියන එක තේරෙන්නෙ, ඔක්කෝම මේ ඉන්ද්‍රිය ධර්මයන්ගේ අඩු වැඩි බවත් එක්ක. බුදුරජාණන් වහන්සේ දකිනවා මේ ඥාණයට කියනවා ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය. ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණයෙන් සමන්විත බුදුරජාණන් වහන්සේ දිවිහිමියෙන් මම සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. ඔබට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. ඔබ මේ සරණ යන්නේ වචනයට නෙවෙයි. ගුණ දැනගෙනමයි. ඔබ මේ පහදින්නේ නිකම් රැස්විහිදීමකට නෙවෙයි, ගුණ දැනගෙනමයි. මේ විදියට පැහැදුනොත් නම් ආකාරවතී ශ්‍රද්ධාව පිහිටනවා. මේ

විදියට පැහැදිලා ඒ ශ්‍රද්ධාව හිතේ පැලපදියම් කරගන්න ලැබුනොත් ශ්‍රද්ධානුසාරී බවට පත්වෙනවා. ශ්‍රද්ධානුසාරී බවට පත්වුනොත් සෝතාපන්න බවට පත්නොවී කළුරිය කරන් නෑ. ඊළඟට පින්වතුනි අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේට විශේෂ ඥාණයක් තියෙනවා දෙවෙනි ෂඩ් අසාධාරණ ඥාණය. ඒ තමයි ආසයානුසය ඥාණය. මේ ඥාණය පිළිබඳව නිතර කතා වෙන්නෙ නෑ. නිතර ඇහෙන් නෑ, ඒ නිසා මේක ඉගෙන ගන්න. පුදුම සහගත විස්තරයක් මේ තියෙන්නෙ ආසයානුසය ඥාණයේ. කතමං තථාගතස්ස සත්තානං ආසයානුසේ ඥාණයං, සත්ත්වයන් කෙරෙහි තියෙන බුදුරජාණන් වහන්සේගේ ආසයානුසය ඥාණය කියන්නේ කුමක්ද, ඉද තථාගතෝ සත්තානං ආසයං ජානාති අනුසයං ජානාති චරිතං ජානාති අධිමුත්තිං ජානාති, ඒ වගේම භබ්බාභබ්බෝ සත්තේ ජානාති, බුදුරජාණන් වහන්සේ සත්ත්වයන්ගේ ආස්වය දන්නවා. ආස්වය කියන්නේ හිත ඇසුරු කරන දේ. හිත වාසය කරන තැන. හිත ඇසුරු කරන දේ, හිත වාසය කරන දේ, හිත කිඳා බැහැලා තියෙන විදිය දකිනවා. මේ සත්ත්වයන්ගේ ස්වභාවය. අනුසයං ජානාති, අනුසය හතක් තියෙනවා. ඒ තමයි කාමරාගානුසය, පටිගානුසය, අවිජ්ජානුසය, දිට්ඨියානුසය, ඊළඟට විචිකිච්ඡානුසය, ඊළඟට භවරාගානුසය මේ ආදී වශයෙන් අනුසය හතක් තියෙනවා. ඒ එතකොට ඒ අනුසය හත ඒ සත්ත්වයාගේ හිත් තුළ තියෙන විදිය දකිනවා. චරිතං ජානාති, ඒ සත්ත්වයන්ගේ චරිත ස්වභාවය, සසරේ පුරුදු කරපු ස්වභාවය දකිනවා, අධිමුත්තිං ජානාති, එයාගේ හිත පැහැදිලා යන විදිය දකිනවා. ඊළඟට භබ්බාභබ්බෝ සත්තේ පජානාති, භබ්බඅභබ්බ, ඒ කියන්නේ භව්‍ය අභව්‍ය ඒ කියන්නේ ධර්මය අවබෝධ කරන්න සුදුසු චරිතයක්ද, නුසුදුසු චරිතයක්ද කියලා දකිනවා. දැන් අපෙන් කවුරුහරි බණ අහන්න ආවොත් එහෙම ඒ ආව මිනිස්සුන්ගේ භව්‍ය අභව්‍ය බව අපි දන්නෙත් නෑ. ඒ මිනිස්සුන්ගේ චරිත ස්වභාව දන්නෙත් නෑ. භාග්‍යවතුන් වහන්සේ කෙනෙක් දුටු පමණින්ම එය දන්නවා. මේ බලන්න ලස්සන විස්තරයක් තියෙනවා. කතමෝච සත්තානං ආසය, කොහොමද මේ සත්ත්වයාගේ හිත ආස්වය කරන්නේ, මේ සත්ත්වයාගේ හිත ආස්‍රය කරනවා එක්කෝ දෘෂ්ටි ස්වභාවයත් එක්ක, ඒ කියෙන්නේ සාස්වත දෘෂ්ටිය, එක්කෝ අසාස්වත දෘෂ්ටිය. නැත්නම් උච්ඡේද දෘෂ්ටිය. එතකොට දෘෂ්ටිවල හිත බැසගෙන තියෙනවා මේ රහතන් වහන්සේලාට මොකද වෙන්නේ, ජීවි ආත්මයට මොකද වෙන්නේ, මේ ආදී වශයෙන් දෘෂ්ටි වල හිත වැඩ කරනවා, ඒක තමයි ආස්‍රවය කියලා කියන්නෙ.

හිත දෘෂ්ටි වල වැඩ කරන විදිය බුදුරජාණන් වහන්සේට දකින්න පුලුවන්. එතකොට බුදුරජාණන් වහන්සේ ඒ වුනාට ධර්මය දේශනා කරන්නේ පටිච්ච සමුප්පාදයෙන්. ඉදපච්ඡේතා ඥාණයෙන්. මේ හේතුඵල දහම අනුව බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරන්නෙ. එතකොට මිනිස්සු ඉන්නේ දෘෂ්ටි වල. එතකොට බුදුරජාණන් වහන්සේ මෙයා ඉන්න, මෙයාගේ හිත වැඩ කරන දෘෂ්ටිය මොකක්ද කියලා හොයන්න පුලුවන්. ඒක හොයන්නෙ ආසයානුස ඥාණයෙන්. මෙයාගේ හිත කොයි දෘෂ්ටි වලද වැඩ කරන්නේ කියලා කෙනා දකිනකොටම හිතාගන්න පුලුවන්. ඒක තේරෙන ඥාණයක් තියෙනවා, ආසයානුස ඥාණය. නමුත් බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරන්නේ හේතුඵල දහමෙන්. මිනිස්සු එන්නේ දෘෂ්ටි වල ඉඳලා. හරිනෙ. ඊටපස්සෙ දැන් අපි ළඟට සමහරවිට කෙනෙක් මේ බණ අහන්න එනවා. සමහර වෙලාවට හිතින් හිතාගෙන ඉන්නෙ බුදුන් ලංකාවේ උපන්නා කියලා. එතකොට අපි මෙච්චර ධර්මය දේශනා කරනවා, අවසානයේ වෙන මොකක්හරි දෙයක් හිතලා. ඊටපස්සෙ අපි මේ සසර දුකින් අත්මිදෙන්න කියලා ධර්මය දේශනා කරනවා. පූර්ව අන්තය, අපරාන්තය, මේ පෙර පසු මේ වගේ දෘෂ්ටි වල පැටලිලා ඉන්න එපා කියලා. සමහර විට එයා රාවණාට වැඳ වැඳ ඉන්න කෙනෙක්. එතකොට ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ගැන කිව්වට, බුදුරජාණන් වහන්සේටත් කලින් මේ අය හිටියේ කියලා ඒ අය හිතේ තියාගෙන ඉන්නෙ ශාස්තෘන් වහන්සේ නෙවෙයි. එතකොට දෘෂ්ටි ජාලාවක්. නමුත් බුදුරජාණන් වහන්සේ ළඟට කෙනෙක් එනකොට මෙයා ඉන්නේ මොන දෘෂ්ටියේද කියලා බුදුරජාණන් වහන්සේට තේරෙනවා. දැන් බුදුරජාණන් වහන්සේ ළඟට දීඝනිකා ඇවිල්ලා බුදුරජාණන් වහන්සේට කියා සිටිනවා, මං කිසිම දෘෂ්ටියකට කැමැති නෑ කියලා, ස්වාමීනී මං කිසිම දෘෂ්ටියකට කැමැති නෑ. ඔන්න බලන්න අමුතු චරිතයක්නෙ මේ. ඒ වුනාට බුදුරජාණන් වහන්සේ වදාළා, දීඝනික මම කිසිම දෘෂ්ටියකට රුචි නොවේ කියන දෘෂ්ටියට ඔබ කැමැතියි නේද? බලන්න භාග්‍යවතුන් වහන්සේ ඒක අල්ලපු හැටි. මම කිසිම දෘෂ්ටියකට කැමැති නෑ කියන දෘෂ්ටියට කැමැතියි. එතකොට ඒකත් දෘෂ්ටියක්නෙ. එහේම්මම ඉඳගත්තා. ධර්මය දේශනා කලා. සෝතාපන්න වුනා ඔහු. වේදනාපරිග්ගහ සූත්‍රය දේශනා කලේ. දීඝනික සූත්‍රය. එතකොට බුදුරජාණන් වහන්සේ ඒක දකිනවා. ඊළඟට පින්වතුනි, තව විශේෂ දෙයක් දකිනවා බුදුරජාණන් වහන්සේ මේ ආසයානුස ඥාණයෙන්. කාමං සේවං තඤ්ඤේව ජානාති, බුදුරජාණන් වහන්සේ කාමය සේවනය කරන අය

දකිනවා, කාම සේවනය කරන අය, අඹු දරුවන් පෝෂණය කරන මිනිස්සු දකිනවා, සත්ත්වයා. අයං පුග්ගලෝ කාම ගරුකෝ කාමාසයෝ කාමාදිමුත්තෝති, මේ පුද්ගලයා කාමය ඇසුරු කරගෙන ඉන්නෙ, කාම සිතිවිලි තියෙන්නෙ, ඊළඟට කාමය තුළ තමයි දැන් මෙයා වාසය කරන්නෙ. ඔන්න බුදුරජාණන් වහන්සේ එහෙම කෙනෙකුත් දකිනවා. කාමං සේවං තං නේවජානාති, තව එක්කෙනෙක් ඉන්නවා කාම සේවනයේ යෙදෙන, අඹු දරුවොත් එක්ක වාසය කරන කෙනෙක්. අයං පුග්ගලෝ නෙක්ඛම්ම ගරුකෝ නෙක්ඛම්මාසයෝ නෙක්ඛම්මාදිමුත්තෝති, ඒ බුදුරජාණන් වහන්සේ දකිනවා මෙයා අඹු දරුවොත් එක්ක කාමය ඇසුරු කරමින් අඹු දරුවොත් එක්ක ගෙවල් වල වාසය කලාට මෙයාගේ හිත තියෙන්නේ නෙක්ඛම්මයේ. මෙයාගේ හිත නෙක්ඛම්මයට ගන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේ මේක දන්නවා. ඔන්න මේක පුදුම සහගත දෙයක්. දැන් පින්වතුනි අඹුදරුවන් පෝෂණය කරගෙන ඉන්නවා. නමුත් ඉන්නේ කාමයෙන්. එතකොට ඒ මිනිස්සු කාමයේම තමයි බැස ගන්නෙ. ආයෙ නෙක්ඛම්මයක් ගැන හිතන්නෙම නෑ. ඒ තමයි ගිහි ජීවිතය ගත කරන මිනිස්සු. තව කට්ටියක් ඉන්නවා ගිහි ජීවිතේ ගත කරනවා, හැබැයි මෙයාලා කොච්චර කාමයෙන් අන්ධ වුනත්, කාමරාගය හිතේ වැඩ කර කර තිබ්බත්, අඹු දරුවෝ සමඟ වාසය කළත්, මෙයාගේ හිතේ නෙක්ඛම්ම ස්වභාවයක් තියෙනවා. බුදුරජාණන් වහන්සේට පුළුවන් ධර්මය දේශනා කරන්න ඒ සැඟවිලා තියෙන නෙක්ඛම්මය ගොඩ ගන්න. දැන් අපි උදාහරණයක් ගත්තොත් ඔන්න අපි ගමු භද්දවග්ගිය කුමාරවරු තිස්දෙනා. ඒ කුමාරවරු තිස්දෙනා කෙල්ලො තිස් දෙනෙකුත් අරගෙන කැලේ ගියා. එතකොට මේ හුදකලාවේ මහවනයේ ගිහිල්ලා දැන් මේ කෙල්ලොත් එක්ක මෙයාලා දැන් කාමයෙන් වාසය කරන්නෙ. එතකොට ඒ තරුණ කොල්ලො තිස් දෙනෙක් කෙල්ලො තිස් දෙනෙක් එක්ක මේ වගේ මහවනයට පැන්නට පස්සෙ එයාලගේ හිත කොච්චර කාමයෙන් දූෂිත වෙනවාද කියලා බලන්න. එක කෙල්ලෙක් සම්පූර්ණ බඩු ටික අරගෙන පැන්නා, ආභරණ, ගණිකාවක් ඈ. ඊටපස්සෙ ඒ අනිත් ගෑණු ළමයිට මාළිගාවල් වලට යන්න කියලා අර කෙල්ල හොයාගෙන දැන් යනවා. එතකොට මුළු දවසේම කාම සිතිවිලි වලින් හිටපු අයනෙ මේ. ඉතින් බුදුරජාණන් වහන්සේ ඉස්සරහ වැඩ ඉන්නවා. ඉතින් බුදුරජාණන් වහන්සේගෙන් ඇහුවා මෙතනින් ස්ත්‍රියක් ගියා ද. බුදුරජාණන් වහන්සේ වදාළා ඒ ස්ත්‍රියාවන් ගැන හොයනවාට වැඩිය නරකද තමන් ගැන හෙව්වොත් කියලා. ඒ කුමාරවරු කිව්වා ඒක නම් හොදයි තමයි. එහෙනම්

වාඩිවෙන්න කිව්වා, මං තමන් ගැන හොයන හැටි කියලා දෙන්නම් කිව්වා. ධර්මය දේශනා කලා. සෝවාන් වුනා තිස්දෙනාම. අනේ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස අපිව පැවිදි කරගන්න කිව්වා. පින්වත් මහණෙනි මෙහි එන්න කියලා ඒහිභික්ෂු භාවයෙන් පැවිදි වුනා. පැවිදි උපසම්පදාව ලැබුනානෙ. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ ධර්මය දේශනා කලා, අර්හත්වයට පත්වුනා. පුදුම සහගත නැද්ද? මුලු දවසේම කාමරාගයෙන් හිටපු අය. එතකොට අපිට හිතෙනවානෙ ඔය සිද්ධිය කතා කරලා අනේ කාමරාගයෙන් හිටපු අයටත් පුලුවන් වුනානෙ නෙක්ඛම්මය, පැවිදි ජීවිතයකට එන්න, අර්හත්වයට පත්වෙන්න කියලා අපිට සිද්ධිය බලලානෙ හිතෙන්නෙ. බුදුරජාණන් වහන්සේ සිද්ධිය බලන්න ඕන නෑ, කෙනා දකිනකොටම තේරෙනවා මෙයා අනාගතේ රහත් වෙනවාද නැද්ද කියලා. මොන ක්‍රියාවේ හිටියත්. ගැණු ලක්ෂයක් එක්ක හිටියත් බුදුරජාණන් වහන්සේට පුලුවන් මෙයා රහත් වෙනවාද නැද්ද කියලා කියන්න, පුදුම ඥාණයක්. සමහර අය කාමයෙන් ඉන්නවා, එයාලට මොනවා කිව්වත් කාමයෙන් නැගිටින්න බෑ, කාමයේම බැස ගන්නවා. මාගන්ධියා වගේ චරිත. දැන් මාගන්ධියා ඉස්සරත් කාමාධිකයි, පස්සෙත් කාමාධිකයි, මැරුණෙත් කාමාධික වෙලා. එතකොට බුදුරජාණන් වහන්සේ ඒවත් දකිනවා. කෙනා දකිනකොටම සිද්ධි ඕන නෑ බුදුරජාණන් වහන්සේට. අපි කෙනාගේ චරිත තේරුම් ගන්නෙ සිද්ධි ඇසුරෙන්. දැන් මේක මම කියනකොටයි හිතුනෙ. දැන් ගිහි ජීවිතේ මිනිස්සු ඉන්නවානෙ කාමයත් එක්කනෙ වාසය කරන්නෙ. නමුත් හිත ඇතුලෙන් නෙක්ඛම්මයට තියෙන කැමැත්ත කොච්චර වටිනවාද. නෙක්ඛම්මයට හිත තියෙන පැහැදීම කොච්චර වටිනවාද. කාමයෙන් නිදහස් වෙන්න, කාමයේ මොකක්ද මේකෙ ඇති තේරුම, මොකක්ද මේ හිස් ජීවිතය, ඊළඟට මේ කාමයේ ඇති සතුට ඉතාමත් සුළු වෙලාවක් පොඩි තෘප්තියක් නේද තියෙන්නෙ, ඒ වෙනුවෙන් නේද මෙච්චර දුක් කන්දරා විඳින්නෙ කියලා මොහොතක් හරි කල්පනා කරනවා නම් ඒ කාමාධික මිනිස්සු තුළම, රාගය වැඩිවෙන්න පුලුවන්. ආපහු පරණ, මේ හොඳට සිහි කරලා මේ ආයෙ කාමයට වැටෙන්න පුලුවන්. නමුත් අර කල්පනා කරන දේ බුදුරජාණන් වහන්සේ දකිනවා. ඔහු කාමයේ හිටියට නෙක්ඛම්මයේ ස්වභාවයක් චිත්ත අභ්‍යන්තරයේ තියෙනවා කියලා. ඒක බුදුරජාණන් වහන්සේ ආසයානුසයෙන් දකින්නෙ. ඒ නිසා සමහර වෙලාවට ඔබට පැවිදි වෙන්න බැරිවෙන්න පුලුවන්. අඹුදරුවොත් එක්ක ඉන්න වෙන්න පුලුවන්. එතකොට බොහෝ කාමරාගයෙන් බැට කන අය වෙන්න පුලුවන්. කාමාසාවෙන් බැට කන අය වෙන්න පුලුවන්.

නමුත් පින්වතුනි මොහොතක් වත් කල්පනා කරන්න මේකෙ හිස් බව. මොහොතක් වත් කල්පනා කරන්න මේකෙ අනිත්‍ය බව. අවසානයේදී මස් කපන කඩුවයි කොටෙයි වගේ. කපපු මසක් ඉතුරු වෙලා නෑ, පිහියත් ගෙවිලා, කොටෙත් කැපිලා. අවසානෙ මොකවත් නෑ, ඉතුරු වෙන්නෙ ඒක තමයි. සිහිනෙකින් දැක්ක, සිහිනයක් දැක්කා වගේ. සිහිනෙකින් එක්වෙලා සොම්නසින් සිටිද්දි බොඳ වෙලා යලි ඒ දෙස අවදි වී බලද්දි අවසානෙ මොනවත් නෑ. මේක කල්පනා කරන්න. එතකොට ඒවා කල්පනා කරලා තිබුනාට පස්සෙ හිත වඩනකොට කාමරාගයේ, මේ කාම ලෝකයේ හැසිරෙන්න පුලුවන්, බුදුවරු දකිනවා නෙක්ඛම්මය. ඒ බුදුරජාණන් වහන්සේ නෙක්ඛම්මය ගන්න පුලුවන්. ඒක කරන්නෙ බුදුරජාණන් වහන්සේ. ඒක බුදුරජාණන් වහන්සේ කරනවා. සුදුසුකම තමාගේ අභ්‍යන්තරයේ තිබ්බොත් ඉතුරු ටික බුදුරජාණන් වහන්සේ කරනවා. ඒකයි ශාස්තෘ සම්පත්තිය කියලා කියන්නෙ. මේ ධර්මය තුළ බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න නිසා නිතර නිතර නිතර ධර්මය අහනකොට ඔබගේ හිත වැඩ කරන බණ පදය ඇහෙනවා. දැන් අපිට වුනත් මහණ වෙන්න හේතුව, පළවෙනි බණ අහපු ගමන්ම මහණ වෙන්න හිතුන් නෑ. අපිට ගොඩාක් කාලයක් බණ අහන්න වුනා. මගෙ හිතේ අපි අවුරුද්දක් විතර බණ ඇහුවා. එහෙම අහනකොට අහනකොට තමයි, එකපාරටම එක දවසක් එක බණ පදයක් ඇහිච්ච ගමන් සිතිවිල්ලක් ආවා වැඩක්ම නෑ, මේක නම් අතාරින්න ඕන කියලා. හැබැයි එකක් එතකල් ආවෙ නෑ. දැක්කද ඒ වචනය එන්නම ඕන වුනානෙ. ඒ වගේ තමයි අපි කොච්චර බණ ඇහුවත් මේ කෙලෙස් කැඩිලා යන්නෙ නෑ එකපාරම. මොකද තමන්ගේ හිත වැඩ කරන තැන අහුවෙන්න ඕන. ඒක බුදුරජාණන් වහන්සේ ජීවමානව හිටියානම් තත්පරේට අල්ලනවා. ඒකනෙ අංගුලිමාලට එක වචනයයිනෙ කිව්වෙ, නවතින්න කියලා. ඒ වචනය, එක වචනයිනෙ. එක වචනයෙන් නවතිනවානෙ. ඉතින් පිස්සුවෙන් ආපු පටාචාරාට නැගණිය සිහි අරගන්න කියලා එච්චරයිනෙ කිව්වෙ. භාහියදාරුචිට දැක්කොත් දැක්කා පමණයි කියලා එච්චරයිනෙ කිව්වෙ. එතකොට එක වචනයෙන් ඒ සැඟවිලා තියෙන කුසල් ධර්මය උපද්දවනවා බුදුරජාණන් වහන්සේ. තව එක්කෙනෙක් ඉන්නවා බුදුරජාණන් වහන්සේ වදාළා, නෙක්ඛම්මං සේවං තංනේව ජානාති, එක්කෙනෙක් ඉන්නවා නෙක්ඛම්මය සේවනය කරනවා, යං පුග්ගලෝ නෙක්ඛම්ම ගරුකෝ නෙක්ඛම්මාසයෝ නෙක්ඛම්මාදිමුත්තෝති, මෙයා ඉන්නවා නෙක්ඛම්මය ගරු කරන්නෙ, නෙක්ඛම්මය ඇසුරු කරන්නෙ, නෙක්ඛම්ම සිතිවිලි තියෙන්නෙ. එයා

නෙක්ඛම්ම අපි කියමු උදාහරණයක් ගත්තොත් පැවිද්දෙක්. පැවිද්දෙක් ඉන්නවා පැවිදි සිහිවිලි වලින්ම වාසය කරනවා. බුදුරජාණන් වහන්සේට ඒක පේනවා. තව එක්කෙනෙක් ඉන්නවා නෙක්ඛම්මං සේවං තංනේව ජානාති අයං පුග්ගලෝ කාමගරුකෝ කාමාසයෝ කාමාදිමුත්තෝති. මෙයා කාමය ගරු කරන කෙනෙක්, කාමය ඇසුරු කරන කෙනෙක්, කාමයේ හිත තියෙන කෙනෙක් කියලා බුදුරජාණන් වහන්සේට පේනවා. හැබැයි ඉන්නෙ පැවිද්දෙන්. දැන් ඔන්න අද කාලෙ හොඳට සිල් ගුණ දන්න, රකින හොඳ පැවිද්දෙක් හිටියොත් ඔක්කෝම ගරු බුහුමන් කරලා පස්සෙ කාලෙක ඒ පැවිදිකම නැති කරගත්තොත් මිනිස්සු බනිනවා හිටියෙ කොහොමද, දැන් එයාගෙ වැඩ කොහොමද කියලා. එතකොට ඒ සිද්ධියක් ඇසුරෙන්නෙ කියන්නෙ. බුදුරජාණන් වහන්සේට සිද්ධි ඕන නෑ. දැක්ක ගමන්ම දන්නවා මෙයාට අනාගතේ මොකක්ද වෙන්නෙ කියලා. ඒක දකින්නෙ ආසයානුසයෙන්. දැන් ඔය බුදුරජාණන් වහන්සේගේ කාලයේ එක තාපසයෙක් හිටියා ඒ තාපසයාගේ තාපසකම තමයි බ්‍රහ්මචාරීයි, කිසිම කාම ඇසුරක් ලබන් නෑ. ඊටපස්සෙ තමයි ඒ තාපසයා එක්තරා සීමාවක් තියෙනවා, කිලෝමීටරයක් විතර වගේ මොකක්හරි යොදුනක් වගේ, එක සීමාවක් තියෙනවා, සීමාවෙන් පිට යන් නෑ. ඊළඟට තමයි ඇඳුම් අඳින් නෑ. ඕක තමයි එයාගේ තපස. ඔන්න මහණකම. කාම සේවනයක් කරන් නෑ, ස්ත්‍රී ඇසුරක් ලබන් නෑ, ඊට පස්සෙ එක සීමාවක් තියෙනවා, ඒ සීමාවෙන් පිට යන්නෙ නෑ, ඇඳුම් අඳින් නෑ. එතකොට සුනක්කත්ත කියන උන්වහන්සේට හිතුනා අප්පේ මෙයත් ලෝකයේ රහතන් වහන්සේ නමක්නේ කියලා හිතුනා, මේ බුදුරජාණන් වහන්සේ එක්ක පිණ්ඩපාතෙ යද්දින් හිතුනෙ. බුදුරජාණන් වහන්සේ වදාළා සුනක්කත්ත, ඔහෙත් බුදු කෙනෙක් ළඟ මහණ වුනානෙ කියලා. ඇයි ස්වාමීනී, ඇයි දැන් අන්න අර තාපසයා දිහා බලලා හිතුවෙ රහත් වෙලා කියලා. මේ සුනක්කත්තයා ඇහුවා ඇයි භාග්‍යවතුන් වහන්ස ඔබ වහන්සේට ඉරිසියයිද අනිත් රහතන් වහන්සේලා ගැන? භාග්‍යවතුන් වහන්සේ වදාළා තථාගතයන් වහන්සේට රහතන් වහන්සේලා ගැන ඉරිසියාවක් නෑ, ඒ වුනාට සුනක්කත්ත බලාපං කිව්වා තව දවස් හතක් යනකොට ඕන්න ඔය තාපසයා ගෑණු කෙනෙකුත් අරන් හොඳට වස්ත්‍ර පොරවගෙන ගෑණු කෙනෙකුත් අරන් මේ සීමාව පැනලා පවුල් කන්න යනවා කිව්වා. ඊටපස්සේ සුනක්කත්ත හිටියා දැන් අවධානෙන් හිටියා, ඇත්තටම දවස් හතක් යනකොට කොහෙදෝ ගෑණියක් පටලැවිලා අර තාපසයාගෙ. ඒ ගෑණිත් අරගෙන ඇඳුමුත් ඇඳගෙන අර

සීමාවෙනුත් එළියට ගියා. ඈත ජනපදයකට ගියා පවුල් කන්න. එතකොට සිද්ධිය වුනාට පස්සෙනෙ අපිට තේරෙන්නෙ, මෙහෙම හොඳ පැවිද්දෙක් හිටියා. මෙන්න ගෑණියෙක් නිසා වැනසුනා කියලා අපිට සිද්ධියත් එක්කනෙ එන්නෙ. බුදුරජාණන් වහන්සේට එහෙම නෑ, දකිනකොටම කියන්න පුලුවන්. දැන් ඔන්න එක ස්වාමීන් වහන්සේ නමක් සිවුරු හැරියා. ඉතින් සිවුරු අරින්න කලින්ම තව රහතන් වහන්සේ නමක් වදාළා මේ භික්ෂුව මහණකමේ ඉන්නෙ නෑ කියලා. ඉතින් සිවුරු හැරියා. ඉතින් තව භික්ෂූන් වහන්සේ නමක් ඇවිල්ලා බුදුරජාණන් වහන්සේට කියා හිටියා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අහවල් භික්ෂුව සිවුරු ඇරලා යනවා කියලා කලින්ම අර රහතන් වහන්සේ වදාළා කියලා, අර තෙරුන් වහන්සේ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා එහෙම ගියාට නෙක්ඛම්මයේ ආදීනව සිහි කරලා ආපහු තව ටික දවසකින් එනවා කිව්වා. දැන් අර යන එක රහතන් වහන්සේට පෙනුනා, ආපහු එන එක පෙනුන් නෑ, ඒක බුදුරජාණන් වහන්සේ දන්නෙ. දැක්කද බුදුරජාණන් වහන්සේගේ ආසයානුස ඥාණය. ඒ නිසා පැවිද්දෙක් වුනත් නිතර නෙක්ඛම්ම ධාතුව, නෙක්ඛම්ම ස්වභාවය ඇසුරු කරන්න ඕන. නෙක්ඛම්මය තියෙන උතුම් ගුණධර්ම තියෙන අය ඇසුරු කරන්න ඕන. දැන් මෙතන අධිමුත්ත කියලා කියන්නෙ හිත පෑහිලා යන විදිය. හිත පිහිටන විදිය. ඉතින් ඒ නිසා ඒ විදියටම තව තියෙනවා. කෙනෙක් ඉන්නවා හරීයට තරහා යනවා. ව්‍යාපාදං සේවංතං නේවජානාති, ඔන්න කෙනෙක් ඉන්නවා තරහා යනවා හරියට. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ දකිනවා අයං පුග්ගලෝ ව්‍යාපාද ගරුකෝ ව්‍යාපාදාසයෝ ඊටපස්සෙ ව්‍යාපාදාදිමුත්තෝති, මෙයා ව්‍යාපාදයෙන් යුතු කෙනෙක්, ව්‍යාපාදය ඇසුරු කරන කෙනෙක්, ව්‍යාපාදයේ සිත පවතින කෙනෙක් කියලා. තරහෙන් ඉන්නෙ ඒ මනුස්සයාගෙ චරිතෙත් තරහම තමයි, ජීවිතේම තරහ, මැරෙනකල් ක්‍රෝධෙ. තව එක්කෙනෙක් ඉන්නවා තරහා යන කෙනෙක්. නමුත් තරහා ගියාට මෙයා අයං පුග්ගලෝ අව්‍යාපාද ගරුකෝ අව්‍යාපාදාසයෝ අව්‍යාපාදාදිමුත්තෝති, මෙයාගේ හිතේ මූලික ස්වභාවය තරහ සිතක් නෙවෙයි. මෙයා තරහෙන් ගොඩගන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේට ඒක තේරෙනවා. එතකොට ඒ නිසා තමයි, අපි කියමුකො දැන් ඔන්න හිටියා සැවැත්නුවර හිටියා වේදේහිකා කියලා ස්වාමි දියණියක්. ඉතින් වේදේහිකා කියන ස්වාමිදියණිය ගෙදර දාසියකුත් ඉන්නවා. වේදේහිකා ගැන මුළු ශ්‍රාවස්තියේම පැතිරිලා ගියා අනේ වේදේහිකා කියන්නෙ පුදුම කෙනෙක්, කරුණාවන්ත කෙනෙක්, තරහ යන්නැති කෙනෙක්, මෛත්‍රියෙන් ඉන්නෙ කියලා ඇල්වතුරත් නිවලා බොන්නේ

කියලා හැම තැනම පැතිරිලා ගියා. ඊටපස්සෙ මේ වේදේහිකාගේ දාසියට හිතුනා අපේ ස්වාමිදියණිය ඇත්තටම මේ කරුණා මෛත්‍රියෙන්ද ඉන්නේ, එහෙම නැත්නම් වැඩ ටික ඔක්කොම නූලට තීතට මම කරන නිසා ගෙදර කෙනෙක් වගේ ඒ නිසා ද මෙයා මෙහෙම මටත් ආදරෙන් ඉන්නෙ. චෙක් කරන්න ඕන කියලා හිතුනා. හිතිලා පහුවදා දාසිය නැගිට්ටෙ නෑ උදේ, පරක්කු වුනා. ඊටපස්සෙ ගෙදර නෝනා ඇවිල්ලා මොකෝ දාසි නැගිට්ටෙ නැත්තෙ. නෑ නෝනා නිකං කිව්වා. දැන් අර මොකෝ කියන එක සැරෙන්. වෙනදා ඔහොම කතා කරලා නෑ. දැන් අර දාසිට හිතුනා අනිවාර්යයෙන් මෙයාගේ ඇතුලේ නම් සර්පයා ඉන්නවා. දෙවෙනි දවසේත් මෙයා ටිකක් පරක්කු වෙලා ඇහැරුනා. ඊටපස්සෙ වේදේහිකා, එයාගෙ නම කාලි ඒ දාසියගෙ. මොකෝ උඹ පරක්කු වුනේ, නෑ නෝනා නිකං කිව්වා. නිකං? ඔන්න දැන් වෙනදට වැඩිය ටිකක් සැර. තුන්වෙනි දවසෙත් පරක්කු වුනා. පරක්කු වුනාට පස්සෙ ඒයි කාලි නැගිටපං, තෝ මොකද? නෑ නෝනා නිකං. නිකං? තොට පඩි ගෙවන්නෙ නිකං ද යකෝ කියලා ළඟ තිබිච්ච පොල්ලක් අරන් මේකිගෙ ඔළුවට දුන්නා, එකපාරම අර දාසිය එළියට පැනලා කෑගැහුවා බලාපල්ලා නුඹලා කිව්වා නේද මේ වේදේහිකා කරුණා මෛත්‍රියෙන් තරහ යන්නැති අමුතු ස්ත්‍රියක් කියලා. මේ බලාපල්ලා එකම ගෙදර තනි දාසි ඔක්කෝම වැඩ කරන මේ මම එක දවසක් පරක්කු වෙලා නැගිට්ටා කියලා මගේ ඔළුව පැලුවා. බලාපල්ලා කියලා වීදියක් ගානෙ කෑ ගගහ ගියා. එතකොට හිටියේ කොහොමද වේදේහිකා, අවසානයේ මොකක්ද වුනේ. එතකොට අපිට ඔය සිද්ධියෙන් තේරෙනවානෙ මෙයාලා කරුණාවෙන් මෛත්‍රියෙන් හිටියාට කරුණු යෙදෙනකල් ඉන්නේ. වෙනස් වෙච්චි ගමන් මුන්ගෙ සර්පයො ටික නැගිටිනවා කියලා අපි සිද්ධියත් එක්කනෙ. බුදුරජාණන් වහන්සේට සිද්ධිය ඕන නෑ, දැක්ක ගමන්ම දන්නවා. මෙයා මේ කරුණාවෙන් මෛත්‍රියෙන් හිටියට ඇවිස්සෙනවා කියලා. දැන් ඔන්න තව ඒ සිද්ධියක් බලමු. කාමරාගය ගැන බලනකොට ඔන්න ස්වාමීන් වහන්සේලා තිස් නමක් හොඳට භාවනා කරලා හිත ගොඩාක් සමාධිමත් වෙලා. ගොඩාක් රාග සිතක් එන්නෙම නෑ. භාග්‍යවතුන් වහන්සේ මුණගැහෙන්න ආවා ඒ භික්ෂූන් වහන්සේලා. බුදුරජාණන් වහන්සේ දැක්කා මෙයාලා මෙහෙම හිටියට දැන් අධිමාන්නයෙන් ඉන්නෙ. මාර්ගඵල අවබෝධ කලා කියලා. නමුත් මෙයාලගේ අභ්‍යන්තරයේ කාමරාගය වැඩ කරනවා. ඇතුලෙ තියෙනවා, දැන් මේ ආසයානුස ඥාණයෙන් දකින්නෙ. බුදුරජාණන් වහන්සේ ආනන්ද ස්වාමීන් වහන්සේට පණිවිඩයක් යැව්වා, ආනන්ද භික්ෂූන් වහන්සේලා තිස් නමක් මාව මුණගැහෙන්න ආවොත්

මාව මුණගැහෙන්න කලින් අහවල් සොහොනට ගිහිල්ලා එන්න කියලා. ඒ භික්ෂූන් වහන්සේලා ආවට පස්සෙ ඔන්න ආනන්ද ස්වාමීන් වහන්සේ යැව්වා. සොහොනට ගිය ගමන් තරුණ ගෑණු ළමයෙක්ගේ ශරීරයක් ඊයෙ පෙරේදා සොහොනට ගෙනත් දාලා, ඒකෙ හිවල්ලු ඇඳුම් එහෙම ඉරලා දාලා, එතකොට ඒ රූපය දැක්ක ගමන්ම අර ස්වාමීන් වහන්සේලාගේ හිතේ ක්ලේශය උපන්නා. එතකොට තමයි තේරුනේ මෙච්චර කාලයක් අපේ හිතේ අපි රැවටිලා නේද කියලා, එහේම්මම ඉදගත්තා. එහේම්මම හිත සමාධිමත් කලා. හිත එකග වෙනකොට බුදුරජාණන් වහන්සේ රශ්මිධාරාවකින් පෙනී ඉදලා ධර්මය දේශනා කරලා සොහොනෙ ඉදලම අර්හත්වයට පත්වුනා. කොහොමද මේ දකින්නෙ? බුදු කෙනෙක් හිටියොත් මිසක්කා මේ බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑම පින්වතුනි බොහෝ දෙනෙකුට අයහපත පිණිස, දුක පිණිස පවතිනවා. බොහෝ දෙනෙකුට ශෝකය පිණිස පවතිනවා. බොහෝ අයහපතක් දෙවි මිනිස්සුන්ට පවා. බුදුරජාණන් වහන්සේගේ හිටියානම් ආසයානුස ඥාණය අපි මොන සෙල්ලම් නට නටා හිටියත්, බුදුරජාණන් වහන්සේ දකිනවානෙ පින්වතුනි එයාගෙ හැකියාව. දැන් බලන්න අර සර්කස් පෙන්න පෙන්නා හිටියා එක්කෙනෙක්. සර්කස් පෙන්න පෙන්න හිටියට, ඒ සර්කස් පෙන්නන උණ ගහ උඩදින්ම රහත් වුනු කෙනෙක්නෙ. බුදුරජාණන් වහන්සේ දැක්කානෙ, ධර්මය දේශනා කලානෙ. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ ඒ හැකියාව කියන එක, ඥාණය කියන එක ආශ්වයයීයි, අද්භූතයි ආසයානුසය ඥාණය. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දකිනවා ඔන්න කෙනෙක් ඉන්නවා හරී කරුණාවෙන් මෛත්‍රියෙන් අව්‍යාපාද චිත්තයෙන්. එහෙම හිටියාට එයාගෙ හිතේ වැඩ කරන්නෙ තරහා. ඒක දකිනවා බුදුරජාණන් වහන්සේ. කරුණු යෙදිච්චි ගමන් තරහා එනවා. එතකොට කෙනෙක් ඉන්නවා බුදුරජාණන් වහන්සේ දකිනවා කරුණා මෛත්‍රියෙන්මයි ඉන්නෙ, නමුත් එයාගෙ හිතත් ඇත්තටම තියෙන්නෙ කරුණා මෛත්‍රියෙන්, එයාගෙ තරහ අවුස්සන්න බෑ. එතකොට ඒවා ඔක්කොම බුදුරජාණන් වහන්සේ දකිනවා. දැන් ඒකයි මං කිව්වෙ, තරහ ගියත් පින්වතුනි ඔබට, ඒ තරහට කැමැති වෙන්න එපා, අනේ මගේ හිතේ මේ තරහ ඇතිවෙනවා මේක නැතිවෙන්නෙ කවද්ද කියලා හිතන්න. තරහා නැති සිතකින් ඉන්නෙ කවද්ද කියලා හිතන්න. එතකොට තරහා යන කෙනාම ව්‍යාපාදය තියෙන කෙනාම, අව්‍යාපාද සිතිවිල්ලක් ඇතුලෙ ජනිත කරගන්නවා. ඒක ඔබට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා. තරහා යන චරිතයක් ඉන්නවා නම්

හිතෙන් තරහා ප්‍රතික්ෂේප කරන, හිතෙන් තරහා යනවාට කැමැති නැති, සැරට කැමැති නැති. තමන් සැරයි. නමුත් සැරට අපි කැමැති නෑ. තරහට ලකුණු දෙන්න එපා. අපි ඔන්න හොඳටම කාටහරි බැනලා අපි වැඩක් ගත්තා කිව්වට පස්සෙ යාන්තම් සැරට කතා කරපු නිසා වැඩේ කෙරුණා කියලා ඒ තරහට ලකුණු දෙන්න එපා. ඒ වෙලාවට හිතන්න ඕන, තරහා ගියාට හොඳ නෑ. අපි මේ තරහා ගියාට, මේ අපි කොහොමද සසරෙන් නිදහස් වෙන්නේ කෙලෙස් තියාගෙන කියලා ඒකට ලකුණු දෙන එක නැති කරගන්න ඕන. එතකොට අන්න ඒ ස්වභාවය බුදුරජාණන් වහන්සේට පේනවා, මෙයාට තරහා ගියාට අභ්‍යන්තරයේ තරහා නැති ධාතුවක් තියෙනවා කියලා. එතකොට එයාගෙ තරහා නැති මෛත්‍රී සිත උඩට ගන්න දහම් දෙසන්න බුදුරජාණන් වහන්සේට පුලුවන්. අපේ සුදුසුකම් ටික අපි හදාගෙන හිටියට පස්සෙ බුදුරජාණන් වහන්සේට, ධර්මයට පුලුවන් අපිව ඒ තැනට ගන්න. එතකොට ආසයානුසය ඥාණය. ඊ්ටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ථීනමිද්ධං සේවන්තං නේවජානාති. ථීනමිද්ධයෙන් කෙනෙක් ඉන්නවා, මේ නවම ආසයානුස ඥාණය විස්තර කරන්නෙ. ථීනමිද්ධයෙන් මෙයා හිටියට බුදුරජාණන් වහන්සේ දකිනවා ඇත්තටම මෙයා ථීනමිද්ධයටමයි, නිදිමතටමයි නැඹුරු. නිදිමතේ ගිලිලා ඉන්නෙ. වතුරක කෙනෙක් වැටුනට පස්සෙ වතුර හැම පැත්තෙන්ම ගෑවෙනවා වගේ නිදිමතේමයි මේකගේ ජීවිතේ තියෙන්නෙ කියලා දකිනවා. හැබැයි බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා නිදිමත තියෙන කෙනෙක් ඉන්නවා, නිදිමත වුනාට මෙයාගේ හිත අයං පුග්ගලෝ ආලෝක සංඥා ගරුකෝ ආලෝක සංඥාසයෝ ආලෝක සංඥාධිමුත්තෝති, මෙයාගේ හිත ආලෝක සංඥාව කියන්නෙ නැඟී හිටලා, මේ ආලෝකයත් එක්ක අපේ හිතේ තියෙනවානෙ ප්‍රබෝධමත් බවක්. අන්න ඒ නැඟී හිටින සංඥාවෙන් ඉන්නෙ. නිතර මහන්සියට නිදිකිරා වැටෙනවා. නමුත් එයා නැගිටලා ඉන්න කැමැති චරිතයක්. හැබැයි නින්ද යනවා නිතරම. භාවනා කරන්න ගියත්, බණ අහන්න ගියත් නින්ද යනවා. නමුත් හිත ඇතුලෙන් නැගිටලා ඉන්න කැමැති චරිතයක්. එතකොට එයා නිදිකිරා වැටුනට බුදුරජාණන් වහන්සේ දකිනවා මෙයාව නැගිට්ටවන්න පුලුවන් කෙනෙක් කියලා. දැන් උදාහරණයක් ගත්තොත් බුදුරජාණන් වහන්සේ සංඝයාට දහම් දේශනා කරනවා. එතකොට බුදුරජාණන් වහන්සේ දකිනවා එක භික්ෂුවක් කෙළවරේ නිදිකිරා වැටි වැටි ඉන්නවා. එතකොට අපෙන් බණ අහද්දි නිදිකිරා වැටෙන එක ගැන කවර කතාද, බුදුරජාණන් වහන්සේ දහම් දෙසද්දිත් නිදිකිරා වැටෙනවා එක

භික්ෂුවක්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේට ආසයානුස ඥාණය තියෙනවානෙ. ථීනමිද්ධය තිබ්බට මෙයාගෙ අභ්‍යන්තරය පේනවානෙ. බුදුරජාණන් වහන්සේ ධර්ම දේශනාව නතර කලා. අර භික්ෂුව දෙස බැලුවා. භික්ෂුව මාගේ අවවාද නැමැති අත නුඹගේ කණේ නොවැදේවා. එච්චරයි, එච්චරයි වදාළේ. ආයෙ ධර්ම දේශනාව පටන් ගත්තා. අර භික්ෂුව කොන්ද කෙළින් තියාගෙන අහගෙන හිටියා. ධර්ම දේශනාව අවසානයේ අර භික්ෂුව අර්හත්වයට පත්වුනා. කොහොමද? බණ පටන් ගන්නකොට නිදි කිර කිරා හිටියෙ. ඊළඟට තව එක භික්ෂුවක් රාත්‍රියේ ඇවිල්ලා සක්මන් කරනවා. සක්මන් කරලා කරලා එහේම්මම සක්මනේම නිදිකිරා වැටුනා. වැලි ටික පිහදාගෙන නැගිට්ටා. පියවර දෙකයි අර්හත්වයට පත්වුනා. පුදුම සහගතයි. මගේ බුදුරජාණන් වහන්සේ මේවා දකිනවා පින්වත්නි, ආසයානුස ඥාණය. ඒ නිසා තමයි ඔබ නිදිකිර කිරා වැටුනත් භාවනාවට යම් උත්සාහයක් කරන්න. නිදිකිර කිරා වැටුනත් බණ අහන්න යම් උත්සාහයක් කරන්න. නිදිකිර කිරා වැටුනත් පින්වතුනි ඒ යම් උත්සාහයක් කරන්න. එතකොට බුදුරජාණන් වහන්සේ, ඒ බුදුරජාණන් වහන්සේලාට පේනවා එයාගේ හිත ඇතුලෙ උට්ඨාන සංඥාව, නැගිටීමේ සංඥාව, ආලෝක සංඥාව උපද්දවන්න පුලුවන් බව භාග්‍යවතුන් වහන්සේ උපද්දවනවා. ඇතුලෙ තියෙන්න ඕන සුදුසුකම. ඒ නිසා නින්දටම නිකං පෙරේත වෙලා ඉන්න එපා. අකැමැති වෙන්න. මේ තමන්ට නින්ද යන එක යන්න පුලුවන්. වැටිච්ච වැටිච්ච තැන. අකමැත්ත ඇති කරගන්න. ඊටපස්සේ බුදුරජාණන් වහන්සේ මේ විදියට දකිනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා මෙන්න මේක තමයි කිව්වා සත්ත්වයාගේ තියෙන ආසයානුසය. තව තියෙනවා. ඔය ආසුයනෙ. හිත ඇතුලේ පවතින ස්වභාවයනෙ ඔය තියෙන්නෙ. අනුසය කියන්නෙ මොකක්ද, පින්වතුනි අනුසය තියෙනවා සත්ත්වයාගේ හතක්. ඒ හත තමයි කාමරාගානුසය, පටිගානුසය, මානානුසය, දිට්ඨානුසය, ඊළඟට විචිකිච්ඡානුසය, භවරාගානුසය, අවිජ්ජානුසය. කාමරාග අනුසය, පටිග්ග අනුසය, මාන අනුසය, දිට්ඨී අනුසය, විචිකිච්ඡා අනුසය, භවරාග අනුසය, අවිජ්ජා අනුසය. අනුසය කියලා කියන්නෙ හිත ඇතුලේ තැන්පත් වෙලා තියෙන කෙලෙස් උපද්දවන ස්වභාවය. එතකොට මේ අනුසයන්ගේ ස්වභාවය. එතකොට දැන් අද අපි වෙලාව තියෙන හැටියට ඔය කතා කලේ. තව තියෙනවා. තව තියෙනවා භාග්‍යවතුන් වහන්සේගේ මේ ඥාණයේ ස්වභාවය. තවම ආසයානුසය විස්තර කරලා නෑ, භාග්‍යවතුන් වහන්සේගේ ඥාණය තවම ඉවර නෑ විස්තරය. පුදුම සහගතයි පින්වතුනි අපි

සරණ ගිය ශාස්තෘන් වහන්සේ. ආශ්චර්යයයි. අද්භූතයි. මේ වාගේ ශාස්තෘන් වහන්සේ නමක් තුන් ලෝකයේ තවත් කවුද ඉන්නෙ. අතීතයේ හෝ වර්තමානයේ හෝ අනාගතයේ බුදුරජාණන් වහන්සේ හැර නම් තවත් කෙනෙක් නම් නෑ. මේ ඥාණ තුළ මේ සියලුම ඥාණ කාට යහපත පිණිස ද පවතින්නෙ. මේ ලෝක සත්ත්වයාට යහපත පිණිසනෙ. මේ ඥාණය උපද්දවාගැනීම පිණිසනෙ බුදුරජාණන් වහන්සේ දස පාරමී, දස උප පාරමී, දස පරමත්ථ පාරමී ධර්මයන් පිරුවේ. පිහිට ගන්න පින්වත්නි පිහිට ගන්න. දැන් මේ තියෙන්නෙ බුදුරජාණන් වහන්සේ ආසයානුසයෙන් දකිනවානෙ සමහර අය කාමයේම ඉන්නවා. සමහර අය තරහේම ඉන්නවා. සමහර අය කුසීත වෙලා නිදිමතේම ඉන්නවා. එහෙම හිටියට පෙලක් අය ඉන්නවා ඕවා තමයි එයාලගේ මුලු ජීවිතේම. නමුත් මේ කෙලෙස් වල හිටියට හිත ඇතුලේ කෙනෙක්ගේ තියෙනවා ඊට ප්‍රතිවිරුද්ධ ස්වභාවය. ඒක ධර්මයෙන් උපද්දවනවා. දැන් අපිටත් බුදු කෙනෙක් විදියට වැඩ ඉන්නේ ධර්මයනෙ. එතකොට ඒ ස්වභාවය ධර්මයෙන් උඩට ගන්නවා. ඔබට ඇත්තටම ධර්මය අහන්න කැමැත්තක් ඇතිවුනා කියන්නේම ඔබගේ තියෙන්නේ කෙලෙස් වලට ප්‍රතිවිරුද්ධ ස්වභාවයක් හිත ඇතුලෙ තියෙන්නෙ. ඒකම තමයි ධර්මය අහන්න ඔබේ හිතේ තියෙන කැමැත්ත. ධර්මය අහන්න ඔබ පැමිණෙනවා කියන්නෙ ඔබ මොන චරිතෙ වුනත් රාග අධික චරිතයක් වුනත්, ද්වේෂ අධික චරිතයක් වුනත්, මෝහ අධික චරිතයක් වුනත් ඔබ එන්නෙ, ධර්මය අහන්න පැමිණෙන්නෙ, ධර්මය නිතර අහන්නෙ, හිත ඇතුලෙ අංශු මාත්‍රයක් හෝ කෙලෙස් වලට ප්‍රතිවිරුද්ධ ස්වභාවයක් තියෙන නිසා. බුදු කෙනෙක් ජීවමානව වැඩ හිටියා නම් ඔබව දකිනකොටම ඔබගේ ජීවිතේ දකිනවා. ඒ බුදුරජාණන් වහන්සේ අදාළ බණ පදය දේශනා කරනවා ඔබ නිදහස් වෙනවා. ඒ නිසා පින්වතුනි අද අපි ෂඩ් අසාධාරණ ඥාණ වලින් ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය කතා කලා, ආසයානුස ඥාණයෙන් කොටසක් කතා කලා. ඉතුරු කොටස ඊළඟ දවසෙ අපි කතා කරමු. ඉගෙන ගන්න කැමැත්ත ඇති කරගන්න, මේ ඥාණය සම්පූර්ණයෙන් අහලා හිත පහදවගන්න. පුදුම සහගතයි. ඒ නිසා පින්වතුනි ඒ අනන්ත අපරිමාණ සම්බුදු ගුණයෙන් වැඩ සිටි, සම්බුදු ඥාණයෙන් වැඩ හිටපු බුදුරජාණන් වහන්සේ දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. උතුම් සම්බුදු සරණින් ඔබගේ ජීවිතය සුවපත් වේවා.

පින්වතුනි අද අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ සිඩ්නි නුවර පදිංචි පින්වත් ලීලානි විජේරත්න මහත්මයි, සංජීවනී අඹගහවත්ත මහත්මිය, කුමුදුනී කුමාරසිරි මහත්මිය යන කලණ මිතුරු මිතුරියන් පිරිස. මේ පින්වතුන් අප්‍රමාණ පිනක් අද රැස් කරගන්නවා බුදුරජාණන් වහන්සේගේ ෂඩ් අසාධාරණ ඥාණ තමයි අපි අද ඉගෙන ගන්න කතා කලේ. එයින් ඉන්ද්‍රියපරෝපරියත්ත ඥාණයත්, ආසයානුස ඥාණයේ කොටසකුත් අපි ඉගෙන ගත්තා. ඉතින් බුදුරජාණන් වහන්සේගේ අනන්ත සම්බුදු ඥාණ වල ආනුභාව බලයෙන්, ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණයේ ආනුභාව බලයෙන්, ආසයානුස ඥාණයේ ආනුභාව බලයෙන්, ඒ උතුම් තුණුරුවන්ගේ සූවිසි ගුණානුභාව බලයෙන් මේ ධර්ම දානයේ ආනුභාව බලයෙන් මේ මව්රටටත්, ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ වසංගතය දුරින්ම දුරු වේවා. මනුස්ස වර්ගයාට යහපත සැනසිල්ල උදාවේවා. බියක් සැකක් නැතිව රෝගයක් පීඩාවක් නැතිව සැනසිල්ලේ ජීවත් වෙන්න මේ සියලු දෙනාට තුණුරුවන් සරණින් භාග්‍යවතුන් වහන්සේගේ ගුණ සමුදායේ අනුහසින් සෙත් වේවා කියලා පළමුවෙන් සෙත් පතනවා. ඒ වගේම සියලුම දෙවි දේවතාවුන් වහන්සේලා මේ පින් අනුමෝදන් වෙත්වා, සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා පින් පමුණුවනවා. ඒ වගේම මාස තුනකට පෙර මියපරලොව ගිය ආරියවතී පෙරේරා මෑණියන්ට මේ සියලුම පින් අනුමෝදන් වේවා. අනුමෝදන් වේවා. ඒ වාගේම කොරෝනා වසංගතයෙන් මියගිය සියලු දෙනාටත් පින් අනුමෝදන් වෙත්වා, පරලොව සියලු දෙනා සැපයට පත්වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම රැස් කරගන්නට යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මය පරමපූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වේවා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා කියලා පින් පමුණුවමු. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම ස්වාමීන් වහන්සේලාටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් සියලු දෙනාට මේ පින් අනුමෝදන් වෙලා සියලු දෙනාට ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම ඔස්ට්‍රේලියාවේ සිඩ්නි නුවර පදිංචි පින්වත් ලීලානි විජේරත්න මහත්මිය, සංජීවනි අඹගහවත්ත මහත්මිය, කුමුදුනි කුමාරසිරි මහත්මිය ඇතුලු ඒ කලණ මිතුරියන් සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා, ඒ වගේම ඔස්ට්‍රේලියාවේ සිඩ්නි නුවර භාවනා අසපුවේ වැඩ සිටින, වැඩ සිටි සියලූම ස්වාමීන් වහන්සේලාටත් සෙත් ප්‍රාර්ථනා කරන්න

එතුමියන් බලාපොරොත්තු වෙනවා. ඒ ආකාරයෙන්ම පින් අනුමෝදන් වේවා. ඔබ සියලු දෙනාටත්, මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත්, ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලිය ඔස්සේ ධර්ම දාන පවත්වන සියලු දෙනාට ඒ වගේම කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට ඔබ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය වේවා. අසිරිමත් සම්බුදු නුවණින් වැඩ සිටින ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ සම්බුදු සරණ ලැබේවා. දුකින් නිදහස් වේවා. නිවනින් සැනසෙත්වා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=p1tJZAni0A8&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=33

සාධු සාධු සාධු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාධු සාධු සාධු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාධු සාධු සාධු!!!

පින්වතුනි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහනේ අපි භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසීමිත ඥාණ සමුදාය ගැන වචනයක් කතා කරන්නෙ. බුදුරජාණන් වහන්සේ නමක් ලෝකයට පහළ වීම අතිශයින්ම දුර්ලභයි. බුදුරජාණන් වහන්සේ නමක් ගැන අහන්න ලැබෙන එකත් දුර්ලභයි. මේ ලෝකයේ කීයෙන් කී දෙනාට ද බුදුරජාණන් වහන්සේ ගැන

අහන්න ලැබෙන්නෙ. බුදුරජාණන් වහන්සේගේ ගුණ කඳ අහන්න ලැබෙන්නේ කීයෙන් කී දෙනාටද. ගොඩාක් අය වචන මාත්‍රයෙන් දන්නවා. සිංහල අය වුනත් එහෙමයි. වචන මාත්‍රයෙන් බුදුරජාණන් වහන්සේ කියලා දන්නවා. පෙලක් අය ඉතිපිසෝ ගාථාව දන්නවා. එතනින් එහාට ගුණ වශයෙන් හඳුනාගන්න අය ඉන්නවා නම් අතිශයින් දුර්ලභයි. බණ අහන අය අතරින් වුනත් මේ කතා කරන ඥාණ සමුදාය ගැන විමසන පිරිස ඉතාමත් අඩුයි. එතකොට මේ දවස්වල අපි දැන් කතා කරන්නේ ෂඩ් අසාධාරණ ඥාණ. ඉතින් ඒ ගැන අපි කතා කරන්න කලින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන ශ්‍රද්ධා රූපවාහිනියෙනුත්, ලක්විරු ගුවන් විදුලියෙනුත් විකාශනය කරවන්න දායකත්වය දරන්නේ මහඔය රෝහලේ සේවයේ නියුතු පින්වත් වෛද්‍ය ප්‍රගීත් රංගන මහත්මයා සහ වෛද්‍ය අරුණී රණවීර මහත්මිය. ඉතින් මේ දෙපළ විසින් දෙපාර්ශ්වයේම දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුවපත්භාවයට පිණිසත්, සියලු දෙනාට සෙත් පිණිසත් අද ධර්ම දානය සිද්ධ කරනවා. ඉතින් බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ඥාණ සමුදාය අන් අයට අහන්න සලස්වන පින බුදුගුණ අහන්න සලස්වන පින ඔබට බොහෝ කාලයක් හිතසුව පිණිස යහපත පිණිස පවතිනවා. ඉතින් පින්වතුනි අපේ බුදුරජාණන් වහන්සේගේ ඥාණ හයක් තියෙනවා ෂඩ් අසාධාරණ. ඒ ඥාණ හය ශ්‍රාවකයන්ට නෑ. ඒ ඥාණ හය පරිපූර්ණ වශයෙන් තියෙන්නේ බුදු කෙනෙක්ගේ හද මඩලේ. බුදුකෙනෙක්ගේ බුදු නුවණේ. ඒ ඥාණ හය තමයි අපි කතා කලා, ඒ ඥාණ හය අපි ඉස්සෙල්ලා මතක තියාගමු. ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය, ඊළඟට ආසයානුසය ඥාණය, යමක මහාප්‍රාතිහාර්ය ඥාණය, මහා කරුණා සමාපත්ති ඥාණය, අනාවරණ ඥාණය, සබ්බඤ්ඤුත ඥාණය. එයින් අපි මීට කලින් වැඩසටහනේ ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය කතා කලා, මේ ගැන තියෙනවා පටිසම්භිදාමග්ග ප්‍රකරණය කියන පොත් වහන්සේගේ ඒ ඥාණ හය විස්තර කරලා තියෙනවා. එතකොට අපි කතා කලා ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය කියලා කියන්නෙ මේ ලෝක සත්ත්වයා තුළ පවතින ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා කියන ඉන්ද්‍රිය ධර්මයන්ගේ අඩු වැඩි බව දකිනවා. තියුණු ඉන්ද්‍රිය ද, මෘදු ඉන්ද්‍රිය ද, කෙලෙස් අඩුයි ද, කෙලෙස් වැඩියි ද, ඊළඟට පරලෝක භය දකිනවාද, පරලෝක භය දකින්නැද්ද, මේ ආදී වශයෙන් ඒ ඉන්ද්‍රියන් වල ස්වභාවය දකිනවා. යම්කිසි කෙනෙක් තුල ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා කියන ඉන්ද්‍රිය ධර්ම වැඩිලා නම් ඔවුන් කෙලෙස් අඩු චරිත, තියුණු ඉන්ද්‍රිය තියෙන අය, සසර බිය දකින අය. ඒ ඉන්ද්‍රිය නැත්තටම නැත්නම් ඔවුන් කෙලෙස් වැඩියි, ඒ වගේම ඔවුන් ඉන්ද්‍රිය

ධර්මයන්ගෙන් තොරයි, ඒ වගේම ඔවුන් පරලෝකෙ භය දකින් නෑ. එතකොට ඕනම කෙනෙක් පැමිණුනාට පස්සෙ භාග්‍යවතුන් වහන්සේ ඉදිරියට හෝ ලෝකෙ කොතනක හිටියත් බුදුරජාණන් වහන්සේ මෙයාගේ ධර්මාවබෝධ කරන්න පුලුවන් සුදුසු මට්ටම, ඉන්ද්‍රියන් දියුණු ද, ඉන්ද්‍රියන් වල කොයි ස්වභාවයද තියෙන්නෙ කියලා බුදුරජාණන් වහන්සේ දකිනවා. ඒක බුදු කෙනෙකුට විතරයි දකින්න පුලුවන්නේ. ඒ නිසා තියුණු ඉන්ද්‍රිය තියෙන අයට භාග්‍යවතුන් වහන්සේ ඒ දහම් කරුණු සැකෙවින් දේශනා කරපු සැනින් ධර්මය අවබෝධ කරනවා. අපි ඒකට උදාහරණයක් කතා කලා භාහියදාරුචිට එක වචනයයි, ධර්මය අවබෝධ කරනවා. ඉන්ද්‍රියන් මෘදුව තියෙන අයට බුදුරජාණන් වහන්සේ ගොඩාක් ප්‍රතිපදා දෙනවා, ගොඩාක් හික්මෙන්න වැඩපිළිවෙල දෙනවා. ඒ ඉන්ද්‍රියන් හොඳට තියුණු කරගෙන, ඊටපස්සෙ තමයි ඔවුන් ධර්මාවබෝධය සිද්ධ කරගන්නෙ. එතකොට මෙයා හික්මවන්න ඕන සීමාව කොච්චර ද කියන එක හොඳට තේරෙනවා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේට ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණයෙන්. ඉතින් අපි ඒ ගැනත් කතා කලා, ඊළඟට අපි කතා කලා බුදුරජාණන් වහන්සේ තුළ තියෙන ඊළඟ ඥාණය, ආසයානුසය ඥාණය. ඉතින් ආසයානුසය ඥාණය ඉතාමත් අසිරිමත් ඥාණයක්. බුදුරජාණන් වහන්සේගේ ආසයානුසය ඥාණය අපි කතා කලා ඉද තථාගතෝ සත්තානං ආසයං ජානාති, හිත ඇසුරු කරන විදිය සත්ත්වයන්ගේ සත්ත්වයා මොකක් ඇසුරු කරගෙනද එයාගේ චිත්ත අභ්‍යන්තරය තියෙන්නේ කියලා බුදුරජාණන් වහන්සේ දන්නවා. අනුසයං ජානාති, අනුසය දන්නවා. චරිතං ජානාති, එයා සසරේ පුරුදු කරපු ස්වභාවය දන්නවා. අධිමුත්තිං ජානාති, එයාගේ හිත පෑහිලා යන ස්වභාවය දන්නවා. ඊළඟට භබ්බාභබ්බේ සත්තේ ජානාති, ධර්මය අවබෝධ කරන්න භව්‍යයි ද, අභව්‍යයි ද, සුදුසු ද, නුසුදුසු ද කියලා දන්නවා. ඒක දකිනවා භාග්‍යවතුන් වහන්සේ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා අපි ඒක ඉතින් විස්තර කලා ඒ ඥාණය, ඒක තමයි මේ ලෝකයේ සත්ත්වයෝ උච්ඡේද දෘෂ්ටියේ, එහෙම නැත්නම් මේ ලෝකෙ කිසිවක් නැත කියන, නැත්නම් සියල්ල නැතිවෙනවා කියන තැන හෝ සාස්වත දෘෂ්ටියේ සියල්ල ඇත කියන තැන හෝ දෘෂ්ටිවල හිත පවතිනවා. එතකොට භාග්‍යවතුන් වහන්සේට සාමාන්‍යයෙන් මේ ලෝකෙ ඕනම සත්ත්වයෙක් ඉන්නෙ දෘෂ්ටි දෙකක. ඇත, නැත කියන. එතකොට බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයා තමයි මේ අන්ත දෙකට පැමිණෙන්නැතිව ඉදපච්ඡේතාය මේ හේතුඵල දහමට හිත හටගන්නෙ, මධ්‍යම ප්‍රතිපදාවට. ඒ අන්ත දෙකට

පැමිණෙන්නැතිව. එතකොට මේ ලෝකෙ සත්ත්වයා ඉන්නෙම ඔය දෘෂ්ටි දෙකේ. එතකොට ඕනම සත්ත්වයෙක්ගේ හිත් තුළ තියෙන දෘෂ්ටි ස්වභාවය බුදුරජාණන් වහන්සේට දකින්න පුලුවන්. ඒක දකින්නේ බුදුරජාණන් වහන්සේ ආසයානුස ඥාණයෙන්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ආසයානුස ඥාණයෙන්ම දකින එකක් අපි කතා කලා, විස්තරව ගිය වැඩසටහනේ අපි කතා කලා. ඒ තමයි බුදුරජාණන් වහන්සේ දකිනවා කෙනෙක් කාමයේ සේවනය කරගෙන ඉන්නවා, කම් සැපයේ ඇලිලා කාමාශාවේ ඉන්නවා. බුදුරජාණන් වහන්සේ දකිනවා එයා ඒකෙන්ම, එයාගේ ජීවිතේ වැහිලා යනවා මරණය දක්වාම කාමයම තමයි ඒ මනුස්සයාගෙ හිතේ වැඩ කරන්නෙ ඒ සත්ත්වයාගෙ. තව සමහර අයගේ හිතේ තියෙනවා කාමය සේවනය කරනවා, අඹුදරුවොත් එක්ක වාසය කරනවා, නමුත් හිත අභ්‍යන්තරයේ නෙක්ඛම්මය ඇසුරු කරනවා. එයාගේ හිත නෙක්ඛම්මය තියෙනවා. ඒ කියන්නෙ එයා කාමයේ ආදීනව දකිනවා. එයා මොකක්ද මේ හිස් ජීවිතේ කියලා හිතින් අභ්‍යන්තරය දකිනවා. නමුත් අඹුදරුවොත් එක්ක ඉන්නෙ. ආන්න බුදුරජාණන් වහන්සේ ඒක දකින නිසා බුදුරජාණන් වහන්සේ ඔහුට ධර්මය දේශනා කරනවා ඒ චිත්ත අභ්‍යන්තරයේ තියෙන ඒ නෙක්ඛම්මය හොඳට මතුවෙලා එන විදියට. එතකොට ඒකට අපි උපමා විස්තර මතක් කලා භද්දවග්ගිය කුමාරවරු කාමයෙන් දවසම ගත කලේ, නමුත් බුදුරජාණන් වහන්සේට ඔවුන් දකිනකොටම ඔවුන්ගේ අභ්‍යන්තරයේ තියෙන නෙක්ඛම්ම ස්වභාවය පේනවා බුදුරජාණන් වහන්සේට. ඒක පේන්නෙ ආසයානුස ඥාණයෙන්, භාග්‍යවතුන් වහන්සේ ධර්මය දේශනා කරනවා, ස්ත්‍රීන් ගැන හොයා හොයා ඉන්නැතිව තමන් ගැන හොයන්න කිව්වා, එක වචනයයි. දැක්කද ඒ නෙක්ඛම්ම ධාතුව. බුදුරජාණන් වහන්සේ දැක්කා, අපි දකින්නෙ සිද්ධි වලින්, කලින් එක්කෙනෙක් කාමයේ හිටියා, පස්සෙ එයා නෙක්ඛම්මයට ඇවිල්ලා, අපි හිතනවා කාමයේ හිටපු කෙනෙක් නෙක්ඛම්මයට ආවා කියලා. නමුත් බුදුරජාණන් වහන්සේ ඒ තත්වයට පත්වෙන්න කලින්, ඒ සිද්ධිය වෙන්න කලින් කාමය ඇසුරු කරද්දිත්මයි ඒ පුද්ගලයා බුදුරජාණන් වහන්සේ දන්නවා මෙයා අනාගතයේ නෙක්ඛම්මයට එන කෙනෙක් කියලා. ඒකනේ බුදුරජාණන් වහන්සේ අර සන්තති අමාත්‍යයා අර ස්ත්‍රීන් එක්ක ඇතා පිට යද්දින් බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවෙනෙ වදාළේ ආනන්ද මෙයා අද හවස් වෙනකොට නිකෙලෙස් වෙනවා කියලා. කවුද හිතන්නෙ මේ ස්ත්‍රීන් පිරිවරාගෙන ඇතා පිට අමාත්‍යයෙක් උයන් කෙලියට ගිහිල්ලා එනකොට හවස් වෙනකොට රහත් වෙයි

කියලා මේ ලෝකෙ කවුද හිතන්නෙ, භාග්‍යවතුන් වහන්සේට ඒක පේනවා. ඒක පේන්නෙ බුදුරජාණන් වහන්සේට කටයුතු සිද්ධ වුනාට පස්සෙ නෙවෙයි. ඒ කෙනා ඉන්නකොටම තේරෙනවා. එතකොට ඒ වගේ තමයි කෙනෙක් ඉන්නවා, නෙක්ඛම්මයේ. ඒ කියන්නෙ පැවිදි ජීවිතයක ඉන්නවා. නමුත් එයාගේ ජීවිතේ මැරෙනකල්ම නෙක්ඛම්මයම තමයි ඇසුරු කරන්නෙ, එයාගේ හිත එහෙම තියෙන්නෙ. මහණකමේ තියෙනවා, කාමය අත්හැරීමේ තියෙනවා. නමුත් සමහර අයගේ හිත නෙක්ඛම්මයේ පැවිදි ජීවිතයේ ඉන්නෙ. නමුත් හිත අභ්‍යන්තරයේ කාමය ඇසුරු කරනවා. ඒක එයාට ප්‍රකට නෑ. නමුත් පස්සෙ කාලෙක මෙයා සිවුර අතෑරලා ගිහිල්ලා කසාද බඳිනවා. අඹුදරුවෝ හදනවා. එතකොට සිද්ධියක් වුනාට පස්සෙ මිනිස්සුන්ට කියන්න පුලුවන්. නමුත් බුදුරජාණන් වහන්සේට මුල් කාලෙම එයා මහණ වෙලා ඉද්දින් බණ භාවනා කරද්දිම බුදුරජාණන් වහන්සේ එයා දැක්ක ගමන්ම දන්නවා අනාගතේ මොකක්ද වෙන්නෙ, මෙයාගේ අභ්‍යන්තරයේ කාමාශ්‍රව ඔක්කොම ටික පිටට එනවා කියලා පේනවා. ඒක තමයි භාග්‍යවතුන් වහන්සේගේ ආසයානුසය ඥාණය. ඊළඟට සමහර අය ඉන්නවා තරහින්, එයාගේ හිත තියෙන්නෙ තරහින්ම තමයි මැරෙනකල්ම. ඒකත් දකිනවා. සමහර අය තරහෙන් ඉන්නවා, නිතර තරහා යනවා. නමුත් බුදුරජාණන් වහන්සේ දන්නවා මෙයාට තරහා ගියාට මෙයාගේ චිත්ත අභ්‍යන්තරයේ අව්‍යාපාදය තියෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේ දහම් දෙසනවා. එතකොට අර සැඟවිච්ච අව්‍යාපාදය එනවා ඉස්සරහට. දැන් අක්කෝශ භාරද්වාජ බුදුරජාණන් වහන්සේ ළඟට ආවෙ බැන බැනා, ගාථා පන්සීයකින් බැන බැනා සට සට ගාලා ඇඟ වෙව්ලා වෙව්ලානෙ ආවෙ. බුදුරජාණන් වහන්සේ ඔහුට දහම් දෙසුවා, අර්හත්වයට පත්වුනානෙ, මහණ වෙලා. ඒ බුදුරජාණන් වහන්සේ දකිනවා, ඒ දකින්නෙ ඔහු තරහෙන් ඉන්නකොටම දකිනවා මෙයා තරහෙන් හිටියට හිත ඇතුලෙ මෙයා නෙක්ඛම්මයක් ආශ්‍රය කරනවා කියලා අව්‍යාපාදයෙන්. තරහ නැති සිත සිතක් පිණිස ඇතුලේ ස්වභාවයක් තියෙනවා කියලා දකිනවා. ඒක ආසයානුස ඥාණය. ඒ වගේම බුදුරජාණන් වහන්සේ දකිනවා සමහර අය ඉන්නවා හරී කරුණාවෙන් මෛත්‍රියෙන් අහිංසකව. ඉතින් ඔවුන්ගේ ජීවිත බුදුරජාණන් වහන්සේ දකිනවා පස්සෙ කාලෙත් එහෙම්මම තමයි. නමුත් සමහර අය ඉන්නවා අහිංසකව කරුණා මෛත්‍රියෙන්. පස්සෙ කාලෙක යකා යක්ෂණී වෙනවා. එතකොට යකා යක්ෂණී වෙන්න කලින්ම බුදුරජාණන් වහන්සේ දන්නවා මෙයා මෙහෙම කරුණාවෙන් මෛත්‍රියෙන් හිටියට මෙයාගේ ඇතුලේ

ව්‍යාපාදය තියෙනවා තරහව තියෙනවා කියලා. කරුණු යෙදුනු ගමන් ඉස්මතු වෙනවා. ඒකට අපි උදාහරණයක් කිව්වා වේදේහිකාගේ කතාව. වේදේහිකා ගැන හැමතැනම පැතිරිලා ගියා මෙයා කරුණාවන්ත කෙනෙක් මෙහෙමයි කියලා. නමුත් ගෙදර වැඩ කරන කාලි කියන දාසි එයාගෙ තරහා ඇවිස්සුවානෙ. ඉතින් පස්සේ කාලි ඒක චෙක් කර කර තමයි ඒ තරහ ඇවිස්සුවෙ. බුදුරජාණන් වහන්සේට ආයෙ චෙක් කරන්න දෙයක් නෑ, දකිනකොටම දන්නවා. ආසයානුසය ඥාණය. ඊටපස්සෙ දැන් ඒ නිසා තමයි දැන් බලන්න බුදු කෙනෙක් බේරගන්නෙ, කෙලෙස් ඕන තරම්. ඊටපස්සෙ තව තියෙනවා නිදිමත, සමහර අය නිදිමතේ ඉන්නවා මුලු ජීවිතේමත් නින්දට තමයි එයාගෙ පෙරේතකම තියෙන්නෙ. සමහර අය නිදිමත තියෙනවා. නින්දට ගොඩාක් ඇලෙනවා, නමුත් ආලෝක සංඥාව අභ්‍යන්තරයේ වැඩ කරනවා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ එයාට, එයාගේ ඒ ඇතුලෙ තියෙන ඒ නින්ද ප්‍රහාණය කරන ස්වභාවය ඉස්මතු කරන්න පුලුවන් භාග්‍යවතුන් වහන්සේට. එතකොට මං කියන්න හැදුවේ, බුදුරජාණන් වහන්සේට කෙනෙක් දමනය කරන්න එයා සුදුසු මට්ටමට තියෙන්න ඕන. ඒ නිසා අපිට කොච්චර තරහා ආවත්, කාමරාගයෙන් හිත යටවුනත්, නිදිමත අලසකම් කුසීතකම් තිබුණත් අපි හිතෙන් ඒ කෙලෙස් ප්‍රතික්ෂේප කරන්න ඕන. ඒ වගේම ඒ කෙලෙස් වලට ලකුණු නොදී තියෙන්න ඕන. අපි මේ ලෝකයේ තියෙන ආදීනව මනසිකාර කරන්න ඕන. ඒවා අපි ටික ටික තේරුම් ගන්න ඕන පින්වතුනි. එහෙම වුනොත් අපිට මේ ධර්මයේ පිහිටක් තියෙනවා. අපි කෙලෙස් ප්‍රතික්ෂේප කරනවා නම් හිතින්. ඊටපස්සෙ ඔන්න ඊළඟට, ඊළඟ කාරණාව. දැන් මේ තවම ආසයානුස ඥාණය. දැන් ඔය තමයි ආසය කියන කොටස අපි විස්තර කලේ. බුදුරජාණන් වහන්සේ දේශනා කලා කතමෝච සත්තානං අනුසයෝ, ඇත්තටම මේ විස්තරය කරන්නේ සාරිපුත්ත මහරහතන් වහන්සේ. අනුසය කියලා කියන්නෙ මොකක්ද, සත්තානුසයා, අනුසය හතක් තියනෙවා. අනුසය කියන්නෙ හිත ඇතුලෙ කෙලෙස් සැඟවිලා තියෙනවා. මොකක්ද ඒ සැඟවිලා තියෙන කෙලෙස් උපද්දවන ස්වභාවය. කාමරාගානුසය, පටිගානුසය, මානානුසය, දිට්ඨානුසය, විචිකිච්ඡානුසය, භවරාගානුසය, අවිජ්ජානුසය. එතකොට මේක මතක තියාගන්න බුද්ධ ශාසනයේ අනුසය හතක් ගැන විස්තර කරනවා. ඒ අනුසය කියන්නෙ කෙලෙස් යටපත් වෙලා තියෙනවා, නමුත් ඒ තුළින් තමයි කෙලෙස් උපද්දවන්නෙ. ඒ තමයි කාමාරාගානුසය. ඊටපස්සෙ පටිග අනුසය, මාන අනුසය, දිට්ඨි අනුසය, විචිකිච්ඡා අනුසය, භවරාග අනුසය, අවිජ්ජා අනුසය.

එතකොට අපි දැන් බලමු කොහොමද දැන් මේ අනුසය කියන එක හිතේ වැඩ කරන්නෙ කියලා. යංලෝකෙ පියරූපං සාතරූපං යෙත්ථ සත්තානං කාමරාගානුසයෝ අනුසයේති. මේ ලෝකෙ පියරූප, ප්‍රිය ස්වභාවයෙන්, ප්‍රණීත ස්වභාවයෙන්, මනාප ස්වභාවයෙන් දෙයක් ආවොත් එහෙම ඇතුලෙන් කාමරාගානුසය ඇවිස්සෙනවා. එහෙමයි ඇලෙන්නෙ, ආසා හිතෙන්නෙ. ඒ ප්‍රිය වූ ප්‍රණීත වූ එයාගේ හිත ඇදී යන ස්වභාවය ඉස්සරහට එනකල් කාමරාගානුසයක් නෑ. ආපු ගමන් ඇවිස්සෙනවා. දැන් අපි ගත්තොත් එහෙම මහා බෝධිසත්ත්වයෝ අතීතයේ බ්‍රහ්ම ලෝකෙ ඉඳලා ඇවිල්ලා බ්‍රහ්ම ලෝකයේ කල්ප ගාණක්, කල්ප කියන්නෙ අවුරුදු කෝටි ප්‍රකෝටි ගාණක් බ්‍රහ්ම ලෝකෙ ඉඳලා, කාම සංඥාවක්වත් නැනෙ බ්‍රහ්ම ලෝකෙ. මනුස්ස ලෝකෙට ආවට පස්සෙ මේ කුමාරයා කැමති නෑ රජ පවුලක ඉපදුනේ, මව්ගෙන් කිරිබොන්නෙවත් නෑ කියනවා. එච්චර ස්ත්‍රීන්ට කැමැති නෑ. ඊටපස්සෙ මේ ස්ත්‍රීන්ට කැමැති නැති කුමාරයා ඔහොම දැන් සොළොස් වියට පැමිණුනා. ඊටපස්සෙ ඒ රජ්ජුරුවෝ දැන් කල්පනා කලා දැන් මොකද කරන්නෙ, රාජ කුමාරයෙක් හැටියට මෙයා පුහුණු කරන්නෙපෑ, ස්ත්‍රීන් පිළිකුල් මෙයාට. ඊටපස්සෙ මේක රජ්ජුරුවො කල්පනා කරනකොට නාටිකාංගනාවක් භාරගත්තා මම ඔය කුමාරයාව අවුස්සන්නම් කියලා. ඊටපස්සෙ මෙයා ඈත ඉඳලා ගීත වාදනය කරනවා. ඊටපස්සේ කුමාරයාට පොඩ්ඩක් ඇහුනා. මිහිරි ලෙස වාදනය කලා. හොඳයි කවුද ඒ? ඊටපස්සෙ කිව්වා ගීත වාදකයෙක්, ආ එයානම් හොඳයි තමයි. ඊටපස්සෙ ඊළඟ දවසේ මාළිගාවේ කුටිය ළඟ යහන් ගබඩාව ළඟ වාදනය කළා. අහගෙන හිටියා. කට්ටිය දැනගත්තා හිත වැටුනා කියලා. ඊටපස්සෙ ඔය නාටිකාංගනාව ඔය විදියට හැටහතර  මායම් දාලා බ්‍රහ්ම ලෝකෙ ඉඳලා ආව කුමාරයාව අල්ලගත්තානෙ මේ හැටහතරට. ඊටපස්සෙ කොහොමහරි අල්ලගත්තා. අල්ලගෙන කුමාරයා ඒකෙන් උමතු වුනා. එතකොට බලන්න මෙච්චර කාලයක් යටපත් වෙලා තිබ්බ කාමරාගය ඇවිස්සුනානෙ. ඇවිස්සුනේ මෙච්චර කාලයක් හිත තිබ්බෙම නැනෙ. ඒ හිත තිබ්බෙ නැතිවුනාට, ඒ කාලයේ කාමරාගය එයාගේ හිතේ පේන්නැතිව තියෙන ස්වභාවයක් තියෙනවා ඒක තමයි අනුසය. කරුණු යෙදිච්ච ගමන් ඇවිස්සෙනවා. ඊටපස්සෙ ඔන්න සෑයක් බෝධියක් බොහොම ශ්‍රද්ධාවෙන් වඳිනවා. රාග හිතක් තරහ හිතක් එහෙම දැනෙන් නෑ. එතකොට ඒ වෙලාවට හිතේ කාමරාගයට මොකක්ද වෙන්නෙ. ඒ කාමරාගය ඒ වෙලාවෙ තියෙනවා අනුසය මට්ටමින්. යටපත් වෙලා. ඊටපස්සෙ මේ ලෝකෙ ප්‍රිය ස්වරූපයෙන්,

ප්‍රණීත ස්වරූපයෙන් යමක් හිත ඇදී යන ස්වරූපයෙන් ආපු ගමන් කාමරාගය ඇවිස්සෙනවා. අන්න ඒක තමයි කාමරාග අනුසය. ඒ වගේම යං ලෝකෙ අප්පියරූපං අසාතරූපං චිත්තසත්තානං පටිගානුස්සයෝ අනුසයේති. මේ ලෝකයේ යම්කිසි කෙනෙකුට අප්‍රිය අමනාප දෙයක් තියෙනවා. අප්‍රිය අමනාප දෙයක් එයාගෙ හිතේ හටගන්නේ එයාගේ හිත ඇතුලේ පටිගානුසය තියෙන නිසා. ඊටපස්සෙ ඉති ඉමේසු දියේසු ධම්මේසු අවිජ්ජා අනුපතිතා. මේ ඉතිං කාමරාගය ඇවිස්සුනත්, පටිගය ඇවිස්සුනත් මේ දෙකම වෙන්නෙ මෙයාගෙ අවිද්‍යාව නිසානෙ. ඒ නිසා එතනත් වැඩ කරන්නෙ අවිද්‍යා අනුසය. ඒ අවිද්‍යා අනුසය යම්තැනක තියෙනවා නම් එතන තියෙනවා මානය. මාන්නය. මානානුසයත් තියෙනවා. දෘෂ්ටි ඒවත් තියෙනව. දිට්ඨි අනුසයත් තියෙනවා. විචිකිච්ඡා, සැකය ඒකත් තියෙනවා. ඇයි සැකෙන් එතෙර වෙලා නෙවෙයිනෙ, ඍජු මාවතට පැමිණිලා නෙවෙයිනෙ. දෘෂ්ටිය ඍජු කරගෙන නෑනෙ. ඊළඟට අමා මහ නිවනට පත්වෙලා නෑනෙ. විචිකිච්ඡානුසය තියෙනවා. ඊළඟට ආන්න ඒ නිසා ඔන්න ඔය විදියට තේරුම් ගන්න කියනවා මනුස්සයාගෙ හිතේ අනුසය හත වැඩ කරන විදිය. ඔන්න ඒක තේරුම් ගන්න. ප්‍රියමනාප දේවල් ඉදිරියේ කාමරාගය ඇවිස්සෙන එක, කාමරාගය ප්‍රියමනාප දේ ඉදිරියේ වැඩ කරනවා. ඒක කාමරාග අනුසය. ඊළඟට අප්‍රිය අමනාප දේ ඉදිරියේ එයාගේ හිතේ වැඩ කරලා තියෙන්නෙ පටිගානුසය. මේ දෙකම තියෙන්නෙ අවිද්‍යාව නිසා. අවිජ්ජානුසය. අවිද්‍යාව යම් තැනක තියෙනවා නම් මාන්නය, දිට්ඨි, විචිකිච්ඡා ඊළඟට ඒ අනුසය ඔක්කොම තියෙනවා. මේ විදියට අනුසය හතම වැඩ කරනවා. ඉතින් මේ අනුසය ඔක්කෝම ප්‍රහාණය කරනවා රහතන් වහන්සේලා. මේකෙ තියෙන්නෙ පින්වතුනි බුදුරජාණන් වහන්සේ කෙනෙක් ඇවිල්ලා මේ කතා කරනකොට, එහෙම නැත්නම් භාග්‍යවතුන් වහන්සේ දිවැසින් බලනකොට බුදු ඇසින් බලනකොට ඒ සත්ත්වයන්ගේ අනුසය මට්ටම් ඔක්කොම ජේන්න ගන්නවා. මේ ශාන්තව හිටියට මෙයාගෙ කාමරාග අනුසය ද වැඩ කරන්නෙ, පටිගඅනුසයද, දිට්ඨි අනුසය ද ඒ අනුසය වල අඩු වැඩි ස්වභාවයන් ඔක්කොම දකිනවා. එතකොට මේක බුදුරජාණන් වහන්සේ දකින්නේ ආසයානුසය ඥාණයෙන්. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ ආසයානුසය ඥාණයෙන් දකින එකක් තමයි කතමංච සත්තානං චරිතං, චරිත දකිනවා. පුඤ්ඤාභිසංකාරෝ අපුඤ්ඤාභිසංකාරෝ ආණිඤ්ජාභිසංකාරෝ පරිත්තභූමකෝවා මහාභූමකෝවා ඉදං සත්තානං චරිතං. බුදුරජාණන් වහන්සේ සත්ත්වයන්ගේ චරිත දකිනවා. අපි දකින්නේ කොහොමද, එයා

සිංහල දන්නවද, ඉංග්‍රීසි දන්නවද, භාෂා කීයක් පුලුවන්ද, ඉගෙන ගෙනද, ගණන් හදන්න පුලුවන්ද, වංශෙ මොකක්ද, පාට මොකක්ද ඒවනෙ මිනිස්සු දිහා බලලා මිනිස්සු දකින්නෙ. බුදුරජාණන් වහන්සේ දකිනවා පුඤ්ඤාභිසංස්කාර, සංසාරයේ පින් කරලා තියෙන ඒවා දකිනවා. අපුඤ්ඤාභිසංස්කාර, සංසාරයේ පව් කරලා තියෙන ඒවා දකිනවා. කුසල් අකුසල් දකිනවා. ඊළඟට ආණිඤ්ජාභිසංස්කාර කියන්නෙ භාවනාව තුළින් ඉපදුනු පුණ්‍ය සංස්කාර. භාවනාව තුළ ධ්‍යාන තුළ ඇතිවන කර්ම ස්වභාවයට තමයි ආණිඤ්ජාභිසංකාර කියන්නෙ. එතකොට ඒවා දකිනවා බුදුරජාණන් වහන්සේ. පුඤ්ඤාභිසංකාර, අපුඤ්ඤාභිසංකාර, ආණිඤ්ජාභිසංකාර දකින එක තමයි බුදුරජාණන් වහන්සේ කෙනාගෙ චරිතෙ දකිනවා කියලා කියන්නෙ. එතකොට එයා දැන් මොනවා කර කර හිටියත්, මොන කුලයේ ඉපදිලා හිටියත් මොන වෘත්තිය කලත්, මොන භාෂාව කලත් බුදුරජාණන් වහන්සේ එයාගෙ සංස්කාර ස්වභාවය දකිනවා. පුඤ්ඤාභිසංකාර, අපුඤ්ඤාභිසංකාර, ආණිඤ්ජාභිසංකාර ඒවා ඔක්කොම භාග්‍යවතුන් වහන්සේ දකින ඥාණය තමයි ආසයානුසය ඥාණය. ඊළඟට තියෙනවා අධිමුක්ත දකිනවානෙ. ඒත් ආසයානුසය ඥාණයෙන් දකින්නෙ. මොකක්ද ඒ අධිමුක්ත? සන්තිසත්තා හීනාධිමුක්තිකතා. සමහර මිනිස්සු ඉන්නවා ලාමක අදහස් වලින් සත්ත්වයෝ. සන්තිසත්තා පනීතාධිමුක්තිතා, සමහර සත්තු ඉන්නවා කල්‍යාණ අදහස් වලින් උතුම් අදහස් වලින්. හීනාධිමුක්තිකා සත්තා හීනාධිමුක්තිකේ සත්තේ සේවේති භජති පයුරුපාසති, හීන අය ලාමක අය ලාමක අයම ඇසුරු කරනවා භජනය කරනවා පයුරුපාසනය කරනවා, ගානට යනවා ලාමක යනවා. පහත් මිනිස්සු පහත් අයත් එක්කම එකතු වෙලා යනවා. ඊටපස්සෙ තියෙනවා පනීතාධිමුක්තිකා සත්තා පනීතාධිමුක්තිකේ සත්තේ සේවේති භජති පයුරුපාසන්ති, උතුම් අදහස් තියෙන අය උතුම් අදහස් තියෙන අයව ඇසුරු කරනවා. ඒකයි මං කලින් වැඩසටහනකදිත් මතක් කලේ, ඔබගේ ස්වභාවය තේරුම් ගන්න ඔබ තේරුම් ගන්න ඔබ ඇසුරු කරන අය. ඇසුරු කරන අය හිස් කතාවෙන් වල්පල් ටිකක් කතා කර කර ඉන්න අය නම් ඇසුරු කරන්නෙ ඔයාලගේ චරිතෙත් ඒකම තමයි. ධර්මය කතා කරන කුසල් අකුසල් කතා කරන හොඳ දේවල් කතා කරන යහපත් දේවල් කතා කරන අය නම් උතුම් අය නම් ඔබලා ඇසුරු කරන්නේ ඔබගේ හිතත් එහෙම තමයි. ටීවී එක දැම්මත් හොයන්න පුලුවන්. ටීවී එකේ බලන්නේම මොකක්හරි වල්පල් කතා ටිකක් නම් හිත ඒ වගේ. එයාගේ අධිමුක්තිකතාවය. ධාතු ස්වභාවය ඒකයි. ධර්මය

අහනවා නම් උතුම් දේවල් හොඳ වැඩසටහන් ඒවට නම් වැඩිපුර කැමති එයාගේ හිත උතුම් ස්වභාවයේ තියෙන්නෙ. ඇසුරු කරන දේකින් තමන්ගේ හිත හීනයි ද, ඊළඟට ප්‍රණීතයි ද, ඊළඟට ලාමක ද, උතුම් ද කියලා තමන්ටම හොයන්න පුලුවන්. හැබැයි බුදුරජාණන් වහන්සේ හිටියානම් දැක්ක ගමන් හොයනවා, තත්පරේට පේනවා. ඒ පේන්නේ බුදුරජාණන් වහන්සේගේ ආසයානුස ඥාණයට. සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා අතීතම්පි අද්ධානං හීනාධිමුක්තිකතා සත්තා හීනාධිමුක්තිකේ සත්තේ සේවෙංසු භජෙංසු පයුරුපාසෙංසු, අතීතයේත් සිද්ධ වෙච්චී දේ තමයි ලාමක මිනිස්සු ලාමක අයත් එක්කමයි පෑහිලා ගියෙ. උතුම් අය උතුම් අයත් එක්ක පෑහිලා ගියා. අනාගතේ පවා ලාමක අය ලාමක අයත් එක්ක පෑහෙනවා, උතුම් අය උතුම් අයත් එක්ක පෑහෙනවා, මේන්න මේ සත්ත්වයාගේ මේවා දකින ස්වභාවය, බුදුරජාණන් වහන්සේ මේ ස්වභාවය දකිනවා නම් දකින්නේ යම් සේද ඒකට තමයි ආසයානුස ඥාණය කියලා කියන්නෙ. එතකොට මේවගේ විස්තර කිරීම් වලදී මා දුටුවා තියෙනවා යම් සේ අපි කියමුකො පැවිදි කෙනෙක් නම් භික්ෂූන් වහන්සේ නමක් වුනත් තමන්ගේ ජීවිතේ තියෙන ඒ කතාබහ කළ යුතු විශේෂ කාරණා තමන්ගේ ගුරුවරයාත් එක්ක කතා කරනවා නම්, ගරුට්ඨානේ සබ්‍රහ්මචාරීන් වහන්සේලාත් එක්ක කතා කරනවා නම් ඒක ඒ ස්වාමීන් වහන්සේගේ තියෙන උතුම් බව කියනවා, කල්‍යාණ බව කියනවා. ඉතින් යම් ස්වාමීන් වහන්සේ නමක් තමන්ගේ ඒ කාරණා, ඒක තේරෙන්නැති පිරිසක් ඉදිරියේ කතා කරනවා නම් ඒක වැටහෙන්නැති පිරිසක් ඉදිරියේ කතා කරනවා නම්, සම වයසේ අයත් එක්ක කතා කරනවා නම්, භික්ෂුවක් නම් ගිහි අයත් එක්ක කතා කරනවා නම් එයා හීන ස්වභාවයෙන්මයි, එයාගේ ධාතු ස්වභාවය හීනයි කියනවා. ගුරුවරු ඇසුරු කරනවා නම් කවුරුහරි එයාගේ ධාතු ස්වභාවය ප්‍රණීතයි කියනවා. ඒ නිසා පින්වතුනි මේවා තථාගතයන් වහන්සේ ඥාණයෙන් දැකපු දේවල්. ඊළඟට තියෙනවා මේ ඔක්කොම ආසයානුස ඥාණය. ඊළඟට බුදුරජාණන් වහන්සේ දකිනවා කතමේ සත්තා අභබ්බා, නිවන් අවබෝධ කරන්න භව්‍ය අභව්‍ය බව කොහොමද දකින්නෙ? යේචේ සත්තා කම්මා වරනේන සමන්නාගතා කෙලේසාවරනේන සමන්නාගතා විපාකාවරනේන සමන්නාගතා අසද්ධා අච්චද්දලිකා දුප්පඤ්ඤා අභබ්බා නියාමං ... කුසලේසු ධම්මේසු සම්මත්තං ඉමේ තේ සත්තා අභබ්බා, කොහොමද මේ කුසල් දහම් වලට අභව්‍යයි කියලා කියන්නෙ? ඔන්න යම්කිසි කෙනෙක්ගේ හිත කර්මාවරණයෙන් වැහිලා නම් ඒ කියන්නෙ මව මැරීම, පියා

මැරීම, භාග්‍යවතුන් වහන්සේගේ ලේ සෙලවීම, රහතුන් ඝාතනය කිරීම, ඊළඟට සංඝ භේදය, ඊළඟට භික්ෂුණියක් දූෂණය කිරීම. ඔන්න ඔය කාරණා තියෙනවා නම් එයාට නිවන අවබෝධ වෙන් නෑ. ඒක තමයි කර්මාවරණය කියලා කියන්නෙ. ඊළඟට එයාට කොච්චර ධර්මය ඇහුවත් දහමෙන් ප්‍රතිඵල ගන්න බෑ. කෙලේශාවරණය කියලා කියන්නෙ මිත්‍යාදෘෂ්ටියෙන් හිත වැහිලා නම් ඒ මිත්‍යාදෘෂ්ටික කෙනාට ධර්මය ඇහුවා කියලා ඒ මිත්‍යාදෘෂ්ටියේ බැසගෙන ඉන්න කෙනාට ධර්මය අවබෝධ කරන්න එයා සුදුසු නෑ. විපාකාවරනේන සමන්නාගතා, විපාකය අපි කියමු අද ගොළු බිහිරි වෙලා උපදිනවා, එතකොට එයාට ධර්මය අවබෝධ කරන්න විපාකයෙන්ම වැහිලා. ඊළඟට ධර්මය කතා කරන පැති වලින් ඈත, ප්‍රත්‍යන්ත දේශයක ඉපදිලා, එයාට විපාක විදියට ලැබිච්ච එකෙන් ධර්මාවබෝධ කරන එක වැහිලා. ඒ වගේ ඊටපස්සෙ තියෙනවා අසද්ධා, ශ්‍රද්ධාව නෑ. පේනවා නේද, ශ්‍රද්ධාව නැති එක, ධර්මය අවබෝධ කරන්න අභව්‍ය කාරණාවක් විදියට තියෙන්නෙ. යම්කිසි කෙනෙක්ගේ හිතේ ශ්‍රද්ධාව පැහැදීම තියෙනවා නම් එයා ධර්මය අවබෝධ කරන්න සුදුසු කෙනෙක් කියනවා. ඊටපස්සෙ අච්චන්දිකා, එයා තමන්ගේ කුසල් දහම් නසාගෙන නෑ. දුප්පඤ්ඤා, දුශ්ප්‍රාඥ නම් අභබ්බා නියාම, දුශ්ප්‍රාඥ නම් ආන්න එයාට බෑ කියලා කියනවා ධර්මය අවබෝධ කරන්න, මේ කුසල් දහම් වල බැසගන්න බෑ කියනවා. කවුද මේ සුදුසු ධර්මය අවබෝධ කරන්න. යේ තේ සත්තා නකම්මාවරනේන සමන්නාගතා, පංචානන්තරීය කර්ම ආදිය කරලා නෑ එයා. ඊළඟට නකෙලේසාවරනේන සමන්නාගතා, එයා මිත්‍යා දෘෂ්ටික නෑ, බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනෙක්. නවිපාකාවරනේන, විපාකයෙන් ආවරණය වෙලා නෑ, ශ්‍රද්ධා ශ්‍රද්ධිකා පඤ්ඤවන්තෝ, ශ්‍රද්ධාවන්තයි ඒ වගේම ප්‍රඥාවන්තයි ඒ වගේම මේ අවස්ථාවන් නසාගෙන නෑ, අන්න එයා සුදුසුයි කියනවා කුසල් දහම් වල බැස ගන්න මේක තමයි කුසල් දහම්, ධර්මය අවබෝධ කරන්න සුදුසු ද නුසුදුසු ද කියලා දකින්න පුලුවන් ඥාණය, ආසයානුසය ඥාණය. ඉදං තථාගතස්ස සත්තානං ආසයානුසයේ ඥාණං, මේක තමයි සත්ත්වයන් පිළිබඳව බුදුරජාණන් වහන්සේට තියෙන ආසයානුසය ඥාණය. ශ්‍රාවකයන්ට නෑ මේක. එතකොට බුදුරජාණන් වහන්සේ කෙනෙක් දිහා බලනකොට ඒ කෙනා ගැන තේරෙන වැටහීම් ටික බලන්න. ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය, ආසයානුස ඥාණය, එහෙන් දසබල ඥාණ, විශාරද ඥාණ, නවඅරහාදී බුදු ගුණ, සම්බුද්ධ ඥාණය, සම්බුදු ඇස ඒ හැම එකකින්මනේ එක්කෙනෙක් දිහා බලන්නෙ. බුදු ඇසට කෙනෙක් පෙනුනොත්

ආයෙ එයා ගැලවෙන කෙනෙක් නම් ගැලවෙනවාමයි. ඉතින් බුදුරජාණන් වහන්සේ මහා කරුණාවෙන් බලනවානෙ සම්පූර්ණයෙන් පින්වතුනි මේ ලෝක සත්ත්වයා දෙස. ඊළඟට අපි බලමු, ඔය තමයි දෙවෙනි ඥාණය. එතකොට පළවෙනි ඥාණය තමයි ෂඩ්අසාධාරණ වලින් පළවෙනි ඥාණය, ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය. දෙවෙනි එක තමයි ආසයානුස ඥාණය. ඊළඟ එක තමයි අපි දැන් කතා කරමු යමක මහා ප්‍රාතිහාර්ය ඥාණය. යමක මහා ප්‍රාතිහාර්ය පින්වතුනි බුදුරජාණන් වහන්සේ නමකට පමණක් සාධාරණ, අසාමාන්‍ය පුදුම සහගත ඥාණයක් ඒක. ඒ යමක මහා ප්‍රාතිහාර්ය පාන්නෙ බුදු කෙනෙක් විතරයි. ඉස්සෙල්ලාම බුදුරජාණන් වහන්සේ යමක මහා ප්‍රාතිහාර්යය පෑවෙ බුදුන් සම්මා සම්බුද්ධත්වයට පත්වෙලා දෙවියන්ගේ සැක දුරු කිරීම පිණිස, බෝධීන් වහන්සේගේ මූලයේ. ඊළඟට බුදුරජාණන් වහන්සේ යමක මහා ප්‍රාතිහාර්ය පාපු අවස්ථාවක් තමයි ඥාති සමාගමේ දී. තමන්ගේ ඥාතීන් බුදුරජාණන් වහන්සේ කපිලවස්තුවට වැඩිය වෙලාවේ පුංචි පුංචි ළමයි ටික ඉස්සරහට එවලා ශාක්‍යයන් ටික පිටිපස්සට ගියානෙ. ශාක්‍යයන් හරි මාන්නයි. එතකොට ශාක්‍යයන් වන්දනාවට ගියෙ නෑනෙ මේ රාජ කුමාරයෙක් කියලා. ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේ ආකාශයේ යමක මහා ප්‍රාතිහාර්ය පෑවානෙ. ඒ වෙලාවෙනෙ බුදුරජාණන් වහන්සේ ඔය අතීතයේ විවරණ කතා ඔක්කොම දේශනා කළේ. ඊළඟට බුදුරජාණන් වහන්සේ යමක මහා ප්‍රාතිහාර්ය පාපු අවස්ථාවක් තමයි ගන්දබ්බ අම්බරුක්ඛ මූලයේ, ශ්‍රාවස්තියේ, සැවැත් නුවර ගන්දබ්බ රුක්ඛමූලයේ බුදුරජාණන් වහන්සේ යමක මහා ප්‍රාතිහාර්ය පෑවා. ඔය වාගේ අවස්ථා කීපයක් තියෙනවා. ඒ වගේම බුදුරජාණන් වහන්සේ, බුදුරජාණන් වහන්සේගේ අධිෂ්ඨානයෙන් ස්වර්ණමාලී සෑයේ ධාතු නිධානයේදී බුදුරුව මැවිලා මහා ප්‍රාතිහාර්ය සිද්ධ වුනා. බුදුරජාණන් වහන්සේගේ අධිෂ්ඨානය නිසා ථූපාරාමයේ අකු ධාතූන් වහන්සේගෙන් යමක මහා ප්‍රාතිහාර්ය සිද්ධ වුනා. එතකොට මේ වාගේ ආශ්චර්‍ය්‍ය තියෙනවා. මේක බුදුරජාණන් වහන්සේට පමණක් සීමා වෙච්චි දෙයක්. එතකොට ජම්බුද්වීපයේ බුදුරජාණන් වහන්සේ ජීවමානව ඉද්දිත් එච්චර සීමිත අවස්ථා, එකක් දෙකක් යමක මහා ප්‍රාතිහාර්යය සිද්ධ වුනේ. මේ ලක් දෙරණෙත් යමක මහා ප්‍රාතිහාර්ය සිද්ධ වුනා කියලා යමක් ඇත්ද බුදුරජාණන් වහන්සේලාගේ ධාතූන් වහන්සේලාගෙන් මේ ලක්දෙරණ ඒකාන්තයෙන්ම ආනුභාවසම්පන්නයි. ඉතින් ඒ ආනුභාවය පෙරටු කරගෙන මේ ලෝක සත්ත්වයාටම සෙත් වෙන්න ඕන. ඉතින් ඒ නිසා දැන් ථූපාරාමය දැන් අපි ස්වර්ණමාලි මහා සෑය වගේම ථූපාරාම

සෑ භූමියේදී බුදුරජාණන් වහන්සේගේ යමක මහා ප්‍රාතිහාර්ය සිදුවෙච්ච ආශ්චර්‍ය්‍ය අද්භූත ආනුභාවසම්පන්න භූමියක් ථූපාරාමය. ඉතින් පින්වතුනි අපි දැන් බලමු බුදුරජාණන් වහන්සේගේ යමක මහා ප්‍රාතිහාර්ය විස්තර කරගමු. ඉද තථාගතෝ යමක ප්‍රාතිහාර්යයං කරොන්ති අසාදාරණං ශාවකේහි, බුදුරජාණන් වහන්සේ යමක මහා ප්‍රාතිහාර්ය නම් වූ ඍද්ධි ප්‍රාතිහාර්යයක් කරනවා ඒක ශ්‍රාවකයන්ට කරන්න බෑ. ඒ කියන්නෙ පින්වතුනි මේකෙදි උපරිම කායතෝ අග්ගික්කන්දෝ පවත්තති හෙට්ටිමකායතෝ උදකදාරා පවත්තති, බුදුරජාණන් වහන්සේ උඩු කයින් ගින්දර පිටකරනවා, යටිකයෙන් ජලය පිට කරනවා. යටිකයෙන් ගින්දර පිට කරනවා, උඩුකයින් ජලය පිට කරනවා. ඉදිරිපසින් ගින්දර පිට කරනවා, පිටුපසින් ජලය පිට කරනවා. පිටුපස ශරීරයෙන් ගින්දර පිට කරනවා, ඉදිරිපස ශරීරයෙන් ජලය පිට කරනවා. වම් පසින් ජලය පිට කරනවා, දකුණු පසින් ගින්දර පිට කරනවා. දකණු පසින් ජලය පිට කරනවා, වම් පසින් ගින්දර පිට කරනවා. එක අතකින් ගින්දර පිට කරනවා, ඊළඟ හස්තයෙන් ජලය පිට කරනවා. ඒ හස්තයෙන් ගින්දර පිට කරනවා, අනිත් හස්තයෙන් ජලය පිට කරනවා. ඊළඟට එක නේත්‍රයකින් ගින්දර පිට කරනවා, අනෙක් නේත්‍රයෙන් ජලය පිට කරනවා. ඒ නේත්‍රයෙන් ගින්දර පිට කරනවා, අනෙක් නේත්‍රයෙන් ජලය පිට කරනවා. එක කන් සිදුරකින් ගින්දර පිට කරනවා, අනෙක් කන් සිදුරෙන් ජලය පිට කරනවා. ඒ කන් සිදුරෙන් නැවත ගින්දර පිට කරනවා, අනෙක් කණෙන් ජලය පිට කරනවා. ඊළඟට එක ඇඟිල්ලකින් ගින්දර පිට කරනවා අනිත් ඇඟිල්ලෙන් ජලය පිට කරනවා. ඒ ඇඟිල්ලෙන් ගින්දර පිට කරනවා, අනෙක් ඇඟිල්ලෙන් ජලය පිට කරනවා. මේ විදියට මේ විදියට ගිහිල්ලා අවසානයේ එක රෝම කූපයකින් ගින්දර පිට කරනවා අනෙක් රෝම කූපයෙන් ජලය පිට කරනවා, ඒ රෝම කූපයෙන් ගින්දර පිට කරනවා, ජලය පිට කරපු එකෙන් නැවත ගින්දර පිට කරනවා. මේ විදියට මේක යමක මහා ප්‍රාතිහාර්ය කියන්නෙ, කෙනෙකුට ගින්දර නම් ගින්දර විතරයි පිට කරන්න පුලුවන්. තේජෝකසිනයට සම වැදිලා. ඊළඟට ජලය නම් ජලය විතරයි පිට කරන්න පුලුවන්නෙ ආපෝකසිනයට සම වැදිලා. එතකොට මේ ලෝකෙ කිසි කෙනෙකුට එක පාර දෙකක් කරන්න බෑ. ආන්න බුදුරජාණන් වහන්සේට පුලුවන් එක ක්ෂණයෙන් සමාධි දෙකකට සමවදින්න. ඒකයි යමක මහා ප්‍රාතිහාර්යය කියන්නෙ. ඒ විදියට පිට කරන ගමන් බුදුරජාණන් වහන්සේගේ ශරීරයෙන් සවණක් ඝන බුදුරැස් විහිදෙනවා. එතකොට නීල, පීත, ලෝහිත, ඕදාත, මාන්ජේෂ්ඨ, ප්‍රභාෂ්වර කියන ඒ

ෂඩ්වර්ණ බුද්ධ රශ්මි ධාරාව විහිදෙනවා. බුදුරජාණන් වහන්සේගේ කේශධාතූන් වහන්සේලා ඒ වගේම ඇහිබැම, රෝම ධාතූන් වහන්සේලා, ඒ වගේම නිල්වන් නෙත් සඟලෙන් නිල් පාට රශ්මි ධාරාව විහිදිලා යනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ ශරීරයේ රතු පාට ඇස් දෙක ඇතුලේ ඊළඟට අතුල් පතුල් රෝස පාට තියෙන, එයින් රතු පාට රශ්මිය විහිදිලා යනවා. ශරීරයේ නේත්‍ර වල තියෙන කහ පාට ඒ ආදී තැන් වලි කහ පාට රශ්මි ධාරා විහිදිලා යනවා. දන්ත ධාතූන් වහන්සේලා ආදී සුදුපාට ස්ථාන වලින් සුදු රශ්මි ධාරා විහිදිලා යනවා. ඊළඟට නියධාතූන් වහන්සේලා ඒ ආදී තැන් වලින් මාන්ජේෂ්ඨ ආලෝකය විහිදිලා යනවා. මේ විදියට බුදුරජාණන් වහන්සේගේ ශරීරයෙන් ෂඩ්වර්ණ බුද්ධ රශ්මි ධාරා විහිදිලා යනවා අර යමක මහා ප්‍රාතිහාර්ය පාන ගමන්. ඒ ගමන්ම බුදුරජාණන් වහන්සේ ඒ වගේම බුදු කෙනෙක් මවනවා. එතකොට තව බුදුවරු මවනවා. එතකොට සැබෑ බුදුරජාණන් වහන්සේ සක්මන් කරද්දි අනෙක් බුදුරජාණන් වහන්සේලා එක්කො අසුන් ගන්නවා, එක්කො සිටගෙන ඉන්නවා, එක්කො සැතපිලා ඉන්නවා. සැබෑ බුදුරජාණන් වහන්සේ සක්මන් කරද්දි අනෙක් බුදුරජාණන් වහන්සේලා එක්කො සිටගෙන ඉන්නවා, එක්කො ඉඳගෙන ඉන්නවා, ඒ වාගේ ඉරියව් හතර. ඒ වාගේ බුදුරජාණන් වහන්සේ තවත් බුදුවරු මවනවා. එතකොට ගන්ඩබ්බ අම්භරුක්ඛ මූලයේදී බුදුරජාණන් වහන්සේ ඒ ප්‍රාතිහාර්ය ඒ සමාධියට සම වැදි වැදී ආලෝකය විහිදුව විහිදුව බුදුවරු මව මවා ඒවා කරන ගමන් බුදුරජාණන් වහන්සේලා ප්‍රශ්න අහනවා, ඒ ප්‍රශ්න වලට උත්තර දෙනවා. ඒ අතරේ විසි කෝටියෙක් දෙවියන්ගේ මිනිස්සුන්ගේ හිත් බලනවා බුදුරජාණන් වහන්සේ. ඒ හිත් වලට අනුව බුදුරජාණන් වහන්සේ යමක ප්‍රාතිහාර්ය පාන ගමන්ම ධර්මයත් දේශනා කරනවා. මේ ඔක්කොම එකපාර කරනවා. මේක ශ්‍රාවකයෙකුට හිතන්නවත් බැරි ඍද්ධියක්. මේකට කියනවා යමක මහා ප්‍රාතිහාර්ය පානවා කියලා. බුදුරජාණන් වහන්සේට පමණක් සීමා වූ, බුදුරජාණන් වහන්සේ නමකටම කිසිම දෙවියෙකුට, බ්‍රහ්මයෙකුට, ඒ වගේම රහතන් වහන්සේ නමකටවත් පෑ නොහැකි වූ ඒ අසිරිමත් වූ ප්‍රාතිහාර්ය පානවා, ඒ ඥාණය තියෙන්නේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකට, ඒ තමයි යමක මහා ප්‍රාතිහාර්ය ඥාණය කියලා කියන්නෙ ඒකට. එතකොට ඔන්න අපි දැන් කතා කරගත්තා ෂඩ් අසාධාරණ ඥාණ වලින් ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය, ආසයානුසය ඥාණය, යමක මහා ප්‍රාතිහාර්ය ඥාණය. එතකොට ඊළඟට බුදුරජාණන් වහන්සේගේ තියෙන්නේ මහා කරුණා

සමාපත්ති ඥාණය. එතකොට පින්වතුනි මහා කරුණා සමාපත්ති ඥාණය ඉතාමත් විස්තරව තියෙන එකක්. එතකොට ඒ විස්තරව තියෙන මහා කරුණා සමාපත්ති ඥාණය අපි කල්යල් අරන් කතා කරමු. අපි ඊළඟට කතා කරමු ෂඩ් අසාධාරණ වලින් තියෙන ඒ ඥාණ වලින් සබ්බඤ්ඤුත ඥාණය. සබ්බඤ්ඤුත ඥාණය කියන්නෙ, කතමං තථාගතස්ස සබ්බඤ්ඤුත ඥාණං, පින්වතුනි සබ්බඤ්ඤුත ඥාණයයි කියන්නෙ සියල්ල දන්නා වූ ඥාණයයි, අනාවරණ ඥාණ කියලා කියන්නෙ කිසිවක් ආවරණ නෑ බුදුරජාණන් වහන්සේගේ ඥාණයට. දැන් අපි පොල් ගෙඩියෙක් ගත්තොත්, ගහකින් පොල් ගෙඩියක් කඩලා ගත්තොත් ලෙල්ල පිටින් ඒ පොල් ගෙඩිය අපිට පේන්නෙ උඩ තියෙන ලෙල්ලත් එක්ක පොල් ගෙඩිය මිසක් ඇතුලෙ පොල් බෑව පේන් නෑ. ඇතුලේ තියෙන පොල් පේන් නෑ. එතකොට ඒක ආවරණය වෙලා තියෙන්නෙ. බිත්තියක් ගත්තොත් බිත්තියෙන් එහා පේන් නෑ, එහාපැත්ත ආවරණය වෙලා තියෙන්නෙ. ඒ ආවරණය වෙලා නෑ කියන එකටයි බුදුරජාණන් වහන්සේට කිසිම තැනක ආවරණයක්, වැස්මක් නෑ. ඕන දෙයක්, ඕන ඈතක පේනවා. සසර පේනවා. අතීත, අනාගත, වර්තමාන පේනවා. අද මනුස්සයා යමක් හිතනවාද පතනවාද ඒවා පවා එදා බුදුරජාණන් වහන්සේ දුටුව දේවල්. මේක අනාවරණ ඥාණය. එතකොට ඒ සබ්බඤ්ඤුත ඥාණයයි, අනාවරණ ඥාණයයි කියන දෙකම අපි එකට ඉගෙන ගමු. මොකද මෙතන විස්තර කරලා තියෙන්නෙ ඥාණ දෙක එකට. තියෙනවා සබ්බං සංකතං අනවසේසං ජානාති සබ්බඤ්ඤුත ඥාණං. සියලුම සංකත අසංකත ධර්මයන් ඉතුරු නැතිවම බුදුරජාණන් වහන්සේ දන්නවා. ඒකයි කියනවා සබ්බඤ්ඤුත ඥාණය. සංකත කියන්නේ? සංකතයක ලක්ෂණ තුනක් තියෙනවා. උප්පාදෝ පඤ්ඤායති, වයෝ පඤ්ඤායති, ඨිතස්ස අඤ්ඤතතං පඤ්ඤායති කියලා. හටගැනීමක් පේනවා, වැනසීමක් පේනවා, ඒ අතර වෙනස්වීමක් පේනවා. ඒකට තමයි සංකතය කියන්නෙ. තවත් ගත්තොත් එහෙම හේතුඵල දහමින් හටගත්ත දේවල් තමයි සංකත. මේ ලෝකෙ සියලුම දේවල් සංකතයි. ආර්ය අෂ්ටාංගික මාර්ගය පවා හේතුඵල දහමින් හටගත්ත දෙයක්. ඒ සියලුම සංකත ධර්ම බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා, සියල්ලම. ඒකයි බුදුරජාණන් වහන්සේගේ සබ්බඤ්ඤුත ඥාණය. එතකොට අසංකත කියන්නෙ, එකම එක අසංකත ධාතුවයි ලෝකෙ තියෙන්නෙ. එකම එක අසංකත ධාතුව තමයි නිර්වාණය. නිර්වාණය කියන්නෙ හේතඵල දහමක් නෙවෙයි. නිර්වාණය හටගැනීමක් වැනසීමක් ඒ අතර වෙනස්වීමක් තියෙන එකක් නෙවෙයි. නිර්වාණය හේතුඵල දහමට අයත්

නොවෙන දෙයක් නිසා අසංකතයි. එතකොට නිවන පිළිබඳව වුනත් යම්තාක් දේ දන්නේ සියල්ලම දන්නේ බුදුරජාණන් වහන්සේ. තත්ථා ආවරණං නත්ථීති අනාවරණ ඥාණං, ඒ පිළිබඳව කිසිම ආවරණයක් නෑ, ඒක අනාවරණ ඥාණය. සියල්ල දන්නා බව සබ්බඤ්ඤුත ඥාණය. ඒ දැන ගැනීමට කිසිම ආවරණයක් නැති බව, බැස්මක්, බාධාවක් නැති බව අනාවරණ ඥාණය. අතීතං සබ්බං ජානාතීති සබ්බඤ්ඤුත ඥාණං. අතීතයේ යම්තාක් දේවල් තියෙනවාද, අතීතයේ සියල්ලම දන්නා බව තමයි සබ්බඤ්ඤුත ඥාණය. ඊටපස්සෙ තත්ථ ආවරණං නත්ථීති අනාවරණ ඥාණං. එතකොට අතීතයේ දේවල් පිළිබඳව දැනගැනීමට කිසිම බාධාවක් නෑ බුදුරජාණන් වහන්සේට ආවරණයක් නෑ, ඒක අනාවරණ ඥාණය. අනාගතං සබ්බං ජානාති යේච් සබ්බඤ්ඤුත ඥාණං, එතකොට බුදුරජාණන් වහන්සේ සබ්බඤ්ඤුත ඥාණයෙන් අනාගතේ දකිනවා. ඒ කියන්නෙ අද බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාලා අවුරුදු දෙදහස් හයසීය ගාණක් ගිය තැන මේ කාලේ මේ සිද්ධ වෙන දේවල් බුදුරජාණන් වහන්සේ දන්නැද්ද? සියල්ල දන්නවානෙ. ඒක බුදුරජාණන් වහන්සේගේ සබ්බඤ්ඤුත ඥාණය. ඒවා දකින්න භාග්‍යවතුන් වහන්සේට කිසිම ආවරණයක්, බාධාවක්, අනතුරක් නෑ. ඒක අනාවරණ ඥාණය. පච්චුප්පන්නං සබ්බං ජානාති සබ්බඤ්ඤුත ඥාණං, වර්තමානයේ සියල්ලම දකින්න බුදුරජාණන් වහන්සේට ඥාණයක් තියෙනවා. ඒක සබ්බඤ්ඤුත ඥාණය. තත්ථ ආවරණං නත්ථීති අනාවරණං, එහිලා කිසිම බාධාවක් ආවරණයක් නෑ බුදුරජාණන් වහන්සේට. ඒක අනාවරණ ඥාණය. චක්ඛුංචයේ රූපාච ඒතං සබ්බං ජානාති සබ්බඤ්ඤුත ඥාණං, තත්ථ ආවරණං නත්ථීති අනාවරණ ඥාණං. ඇස පිළිබඳව යම්තාක් දැනගතයුතු දේවල් තියෙනවාද, ඒ සියල්ලම අවබෝධ කලා. ඒක සබ්බඤ්ඤුත ඥාණය. ඒ පිළිබඳව කිසිම බුදුරජාණන් වහන්සේට බාධාවක් නෑ. ඒක අනාවරණ ඥාණය. ඊළඟට කණ පිළිබඳව, ශබ්දය පිළිබඳව, නාසය පිළිබඳව, ගඳ සුවඳ පිළිබඳව, දිව පිළිබඳව, රසය පිළිබඳව, කය පිළිබඳව, පහස පිළිබඳව, මනස පිළිබඳව, මනසට සිතෙන අරමුණු පිළිබඳව සියල්ල බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා, ඒක සබ්බඤ්ඤුත ඥාණය. ඒ පිළිබඳව කිසිම බාධාවක් නෑ, ඒක අනාවරණ ඥාණය. එතකොට පින්වතුනි, යාවතා අනිච්චට්ඨං දුක්කට්ඨං අනත්තට්ඨං තං සබ්බං ජානාති සබ්බඤ්ඤුත ඥාණං. අනිත්‍ය වූ, දුක් වූ අනාත්ම වූ සියල්ලම බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා. ඒක තමයි සබ්බඤ්ඤුත ඥාණය. ඒ පිළිබඳව බුදුරජාණන් වහන්සේට කිසිම ආවරණයක් නෑ. බාධාවක් නෑ, ඒක

අනාවරණ ඥාණය. ඊටපස්සෙ තියෙනවා යම්තාක් රූප තියෙනවාද, වේදනාව තියෙනවාද, සංඥා, සංකාර, විඤ්ඤාණ කියන පංචුපාදානස්කන්ධය පිළිබඳව සියලූම දේවල් අනිත්‍ය, දුක්ඛ, අනාත්ම, ආශ්වාද, ආදීනව, නිස්සරණ සියලූම දේවල් බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා කියලා යමක් ඇත්ද, ඒක බුදුරජාණන් වහන්සේගේ සබ්බඤ්ඤුත ඥාණය. ඒ පිළිබඳව කිසිම බාධාවක් නෑ කියලා යමක් ඇත්ද, ඒක අනාවරණ ඥාණය. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා, අවබෝධ කළ යුතු යම්තාක් දේවල් තියෙනවා නම් අවබෝධ කලා. ඊළඟට පිරිසිඳ දැකිය යුතු සියල්ලම පිරිසිඳ දැක්කා. භාවනා වශයෙන් ප්‍රහාණය කළ යුතු සියල්ලම ප්‍රහාණය කලා. භාවනා වශයෙන් වැඩිය යුතු සියල්ල භාවනා වශයෙන් වැඩුවා. සාක්ෂාත් කළ යුතු සියල්ල සාක්ෂාත් කලා. අන්න ඒක සබ්බඤ්ඤුත ඥාණය. එහි ලා කිසිම ආවරණයක් නෑ, බාධාවක් නෑ, ඒක අනාවරණ ඥාණය. බලන්න බෝධි මූලයේම මේවා උපදිනවා පින්වත්නි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා ස්කන්ධ, ධාතු, ආයතන වශයෙන් කුසල් දහම්, ඊළඟට සියලු අකුසල දහම්, ඊළඟට අභ්‍යාකත දහම්, ඊළඟට කාමාවචර, රූපාවචර, අරූපාවචර මේ සියලූම දේවල් අවබෝධ කලා බුදුරජාණන් වහන්සේ සබ්බඤ්ඤුත ඥාණයෙන්. එහිලා ආවරණයක් නෑ, ඒක අනාවරණ ඥාණය. ඊටපස්සෙ දුක්ඛ, දුක්ඛ සමුදය, නිරෝධ, මාර්ගය කියන චතුරාර්ය සත්‍යය ධර්මය සියල්ලම අවබෝධ කලා, ඒක සබ්බඤ්ඤුත ඥාණය. එහිලා ආවරණයක් නෑ, ඒක අනාවරණ ඥාණය. ඊළඟට අර්ථ, ධර්ම, නිරුක්ති, පටිභාණ කියන සිව්පිළිසිඹියා සියල්ලම අවබෝධ කලා. ඒක සබ්බඤ්ඤුත ඥාණය. එහිලා ආවරණයක් නෑ, ඒක තමයි අනාවරණ ඥාණය. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා බුදුරජාණන් වහන්සේ නමකට තියෙන්න ඕන සියලුම සම්බුදු ඥාණ මේ ෂඩ් අසාධාරණ, දසබල, සිව් විශාරද ඒ සියලූම ඥාණ බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා, ඒක සබ්බඤ්ඤුත ඥාණය. එහිලා කිසිම බාධාවක් නෑ, ඒක අනාවරණ ඥාණය. යාවතා සදේවකස්ස ලෝකස්ස සමාරකස්ස සබ්‍රහ්මකස්ස සස්සමණබ්‍රහ්මණියා පජාය සදේව මනුස්සාය දිට්ඨං සුතං උතං විඤ්ඤාතං පත්තං පරියේසිතං අනුවිචරිතං මනසා සබ්බං ජානාතීති සබ්බඤ්ඤුත ඥාණං. තත්ථ ආවරණං නත්තීති අනාවරණ ඥාණං, මේ ලෝකෙ දෙවියන් මරුන් බඹුන් සහිත සකල ලෝකයා යමක් දැක්කාද ඇහුවාද, පෙනුනාද, ස්පර්ශ කලාද ඒ සියල්ලම ඒ වගේම සිතුවා ද, ඒ සියල්ලම බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා කියන එක සබ්බඤ්ඤුත ඥාණය. බුදුරජාණන් වහන්සේ සියල්ලම දන්නවා. අතීත අනාගත වර්තමාන.

ඔබ යමක් හිතුවොත් ඒක බුදුරජාණන් වහන්සේ දන් නෑ කියලා එකක් නෑ. ඒකට බුදුරජාණන් වහන්සේට බාධාවක් නෑ, ඒක තමයි අනාවරණ ඥාණය. ඊටපස්සෙ පින්වතුනි තියෙනවා බුදුරජාණන් වහන්සේගේ ඒ ඥාණයත් එක්ක තමයි කියනවා තියෙන්නෙ සමන්තචක්ඛු. හාත්පස හැමදෙයක්ම දකින ඥාණය. බුදුරජාණන් වහන්සේගේ සමන්තචක්ඛුව, හාත්පස දකින ඥාණය තියෙන්නෙ, ඇස තියෙන්නෙ, සබ්බඤ්ඤුත ඥාණයත් එක්ක කියනවා. ඊටපස්සෙ තියෙනවා බුදුරජාණන් වහන්සේ සියලු දුක, ඒ වගේම දුක්ඛ සමුදය, ඊළඟට දුක්ඛ නිරෝධය, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාව ඒ සියල්ලම බුදුරජාණන් වහන්සේ දන්නවා දකිනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ සියලු ඥාණයන්ගෙන් යුක්තයි. ඒ සියලු ඥාණ භාග්‍යවතුන් වහන්සේ අවබෝධ කලා. මේ විදියට සාරිපුත්ත මහරහතන් වහන්සේ සබ්බඤ්ඤුත ඥාණය විස්තර කරනවා. එතකොට සියල්ල දන්නවා කියන එකයි සබ්බඤ්ඤුත ඥාණය. ඊළඟට ඒ පිළිබඳව ආවරණයක් නෑ කියන එකයි අනාවරණ ඥාණය. සියල්ල දන්නවා කියලා හැමවෙලාවෙම භාග්‍යවතුන් වහන්සේ සියල්ලම දකිමින් ඉන්නවා කියන එකක් නෙවෙයි, ආවර්ජනා, සිහි කරපු සැණින් භාග්‍යවතුන් වහන්සේට ඥාණය පිහිටනවා. ඒ ඥාණයෙන් දකින්න පුලුවන්. එතකොට ඔන්න අසාධාරණ ඥාණ වලින් අද අපි කතා කලා ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය, ඊළඟට ආසයානුස ඥාණය, යමක මහා ප්‍රාතිහාර්ය ඥාණය, සබ්බඤ්ඤුත ඥාණය, අනාවරණ ඥාණය. අපි ඊළඟ දවසෙ කතා කරමු මහා කරුණා සමාපත්ති ඥාණය. හරී අසිරිමත් ඥාණයක් ඒ මහා කරුණා සමාපත්ති ඥාණය. අපි හිතන්නෙවත් නැති විදියේ ඥාණයක්. අපි හිතන්නේ මහා කරුණාවෙන් බලනවා ලෝකෙ කියලානෙ. එහෙම බලන්නෙ කොහොමද කියලා තියෙනවා ඒ ඥාණය විස්තර කරනකොට. අපි ඊළඟ දවසෙ ඒ විස්තර ඉගෙන ගනිමු. ෂඩ් අසාධාරණ ඥාණයන්ගෙන් සමන්විත තුන් ලෝකයේ මෙවැනි වූ ශාස්තෘන් වහන්සේ නමක් නෑ. ඒකාන්ත සත්‍යයි. ඒ තුන් ලෝකයේම නැති තුන් ලෝකෙටම එකම ඇස බඳු ෂඩ් අසාධාරණ ඥාණයන්ගෙන් සෝබමාන වූ, දෙව් මිනිස්සුන්ට දුකින් නිදහස් කල පරම ශාන්ති නායක බුදුරජාණන් වහන්සේ මුළු හදවතින්ම සරණ යනවා කියලා සරණ යන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා සරණ යන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා සරණ යන්න. ෂඩ් අසාධාරණ ඥාණවූ බුදුරජාණන් වහන්සේගේ සම්බුදු සරණ ඔබට සැලසේවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ මහඔය රෝහලේ සේවයේ නියුතු පින්වත් වෛද්‍ය ප්‍රගීත් රංගන මහත්මයා සහ වෛද්‍ය අරුණි රණවීර මහත්මිය. ඉතින් ඔබ මේ ධර්ම දානයෙන් රැස් කරගත්ත පින වගේම අපි සියලු දෙනා රැස් කරගත්ත පින භාග්‍යවතුන් වහන්සේගේ ෂඩ් අසාධාරණ ඥාණ වල ආනුභාවයෙන් අපගේ මව්රටටත් ලෝකයටත් පැමිණුන මේ ව්‍යසනය දුරින්ම දුරු වේවා. මනුස්ස වර්ගයාට යහපත සැනසිල්ල නිදුක් නිරෝගී සුව සැලසේවා කියලා අපි පළමුවෙන්ම සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වගේම පින් කැමැති සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙලා සියලු දෙනා ඒ පින් අනුමෝදන් වන දෙවියෝ මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා පින් පමුණුවමු. ඒ වගේම මේ පින්වතුනි නමින් මියපරලොව ගිය, ඔබ කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන් මේ පින් අනුමෝදන් වී පරලොව සැපයට පත්වේවා කියලා පින් පමුණුවමු. ඒ වගේම අපි පින් පමුණුවමු අපගේ පරමපූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකුස්වාමීන් වහන්සේ නිසා අපිට මේ භාග්‍යය ලැබුනෙ. ඒ නිසා පරම පූජනීය ගුරු දේවෝත්තම ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලැබේවා කියලා අපි පින් පමුණුවමු. ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලු ස්වාමීන් වහන්සේලාටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් මේ පින් බලයෙන් ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම මහඔය රෝහලේ සේවයේ නියුතු පින්වත් වෛද්‍ය ප්‍රගීත් රංගන මහත්මයා සහ වෛද්‍ය අරුණි රණවීර මහත්මියට මේ පින් අනුමෝදන් වේවා. ඒ දෙපළගේ දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය, දීර්ඝායුෂ සම්පත්තිය ලැබේවා. අද ධර්ම දානයෙන් රැස් කරගත්තු පින, භාග්‍යවතුන් වහන්සේගේ අසිරිමත් සම්බුදු ඥාණ ගැන කතා කිරීමෙන්, ලෝකයාට අහන්න සැලැස්වීමෙන් රැස් කරගත්ත පින ඔබට බොහෝ කාලයක් හිතසුව පිණිස හේතු වේවා. ෂඩ්අසාධාරණ ඥාණ තුළ පිහිටලා භාග්‍යවතුන් වහන්සේ වදාළ ධර්මය ඔබටත් අවබෝධ කරගන්න භාග්‍යය ලැබේවා. ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන් විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට ඒ වගේම ධර්ම දායකත්ව දරණ සියලු දෙනාට අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් වේවා, අපි කාටත් සසර දුකින් නිදහස් වෙන්න ඒ වගේම උතුම් ගෞතම සසුනේ පිහිට ලබන්න උතුම් සම්බුදු සරණින් සැනසෙන්න නිවනින් සැනසෙන්න මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=Tvqr6tPfIbc&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=34

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සමඟ තමයි එකතු වෙලා ඔබ මේ ධර්මය අහන්න සූදානම් වෙන්නෙ. අපිට භාග්‍යය ලැබුනා බුදුරජාණන් වහන්සේ පෙරුම් පුරාගෙන ආපු ගමනේ පටන් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ නමක් ලෝකයේ පහළ වෙලා උන්වහන්සේ උපදවාගත් උතුම් සම්බුදු ඥාණ ගැන අහමින්, අප්‍රමාණ බුදු ගුණ අහන්න ඔබට වාසනාව ලැබුනා. එක දිගට මේ ධර්ම දේශනා ශ්‍රවණය කරනවා නම් සමහර වෙලාවට ඔබටම හිතාගන්න බැරිව ඇති එකදිගටම මෙච්චර බුදුගුණ අහන්න අපිට සංසාරේ පින් තිබුණද කියලා. බලන්න නොතිබුනු, නොදන්නා වූ පිනක් ඉස්මතු වෙච්චි හැටි. අපිට දවසෙම බුදුගුණ හිත හිතා ඉන්න බැරිවුනත් මේ දවසට මේ පැයක් හෝරාවක් මේ විදියට බුදුගුණ හරි හිතන්න ලැබෙන එක මං නම් හිතන්නෙ භාවනාවක්. හිත බුදුරජාණන් වහන්සේ කෙරෙහි ඍජු කරගෙන භාවනාවෙන් කරන්නෙ අරමුණකට ඍජු කරන එක. ඊටපස්සෙ ඉතින් ඒ කුසලය තමා තුළ තිබ්බට පස්සෙ තමාට හැකියාව ලැබෙනවා, ඒ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පිහිට ගන්න. ශ්‍රද්ධාව කියන්නේ බුද්ධ ශාසනයේ පිළිසරණ ලබන්න මූලික සුදුසුකමක්. ආසයානුසය ඥාණයෙන් බුදුරජාණන් වහන්සේ දැක්කා ශ්‍රද්ධාව කෙනෙක් තුළ

උපදිනවා නම් ඔහු ධර්මාවබෝධය කරන්න සුදුස්සෙක් කියලා. ඒ නිසා ඔබ දැන් අපි මෙපමණකින් නෙවෙයි ඉදිරියට දහම් කරුණු තව කියලා දෙනවා. ඒ වගේම පරමපූජනීය ගුරුදේවෝත්තම ලොකු ස්වාමීන් වහන්සේගේ ධර්ම දේශනා උදේ හවස ඔබට අහන්න ලැබෙනවා. එතකොට ඒ දේශනා සූත්‍රානුසාරයෙන් ධර්මානුකූලව ජීවිතේ විමසන හැටි කියලා දෙනවා. එතකොට ඒ ධර්මය පුරුදු කරන්න හරි උපකාරයි මෙන්න මේ සුදුසුකම් ඇතිකරගෙන තිබීම. ඉතින් අද දවසේත් අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරනවා බෙල්ජියමේ පදිංචි පින්වත් නන්දනී චන්ද්‍රසේකර මහත්මිය, හේමා ඒකනායක මහත්මිය සහ සයිප්‍රස්හි පදිංචි පින්වත් රූපා බස්නායක ඇතුළු පිරිස. ඉතින් මේ පින්වතුන් බලාපොරොත්තු වෙනවා මියපරලොව ගිය ඥාතීන්ට පින් අනුමෝදන් කරන්නටත් ඒ වගේම සුජීවත්ව සිටින අයට සෙත් ප්‍රාර්ථනා කරන්නටත් දරුවන්ට සෙත් ප්‍රාර්ථනා කරන්නටත් සියලුදෙනාගේම යහපත පිණිස තමයි මේ ධර්ම දේශනාව සඳහා දායකත්වය දරලා මේ අප්‍රමාණ පිනක් රැස් කරගන්නෙ. ඉතින් ඔබට, නොයෙක් රටවල ඔබ වාසය කරන්නෙ. දුර රටවල ඔබ වාසය කරන්නෙ. නමුත් ඔබටත් වාසනාව ලැබුනා ගෞතම බුද්ධ ශාසනය පවතින රටේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය ලෝකයාටම මේ ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලිය ඔස්සේ විකාශනය කරවන්නට ඔබට භාග්‍යය ලැබුනා. ඒ ගැන හිතලා සතුටු වෙන්න. ලක්ෂ සංඛ්‍යාත පිරිසකට ධර්මය දීමේ පින ඔබට රැස් වෙනවා. ඉතින් අපි අද කතා කරමු, අද අපි මේ කාලේ අපි කතා කරමින් හිටියේ ෂඩ් අසාධාරණ ඥාණ. බුදුරජාණන් වහන්සේ නමකට පමණක්ම තිබෙන ඥාණ සමුදායක්. ගයාවේ වජිරාසනයේ ජයසිරි මහා බෝ සෙවණේ සම්බුද්ධත්වයට පත්වීමත් සමගම මේ ඥාණ භාග්‍යවතුන් වහන්සේ තුළ පිහිටනවා. බුදුවුනාට පස්සේ පිහිටනවා කියලා එකක් නෙවෙයි. සම්මා සම්බුදු වන මොහොතේම මේ සියල්ල පිහිටන්නෙ. මේ සියලුම ඥාණ එක හදවතක් තුළ එක මොහොතේම පිහිටනවා හිතත් නිකෙලෙස් වීගෙන. ඒ නිසා තමයි ඒ ගයාවේ වජිරාසන භූමිය අකම්පිත. ඒ වාගේ මහා ආනුභාවයක් මේ මිහිමඬල දරාගත්තු තැන. පින්වතුනි අර වෙස්සන්තර ජාතකයේ දන් දෙනකොට මිහිමඬල දරාගන්නට බැරිවුනා නම් ඒ ගුණය උපද්දවනකොට පොළොව කම්පා වුනා නම්. එතකොට අපි ගත්තොත් එහෙම මහා කාශ්‍යපයන් වහන්සේ පිප්ඵලී කුමාරයයි, භද්දාකාපිලානී කුමාරියයි පැවිද්දට යද්දී පාරවල් දෙකට වෙන් වෙද්දී ඒ ඇත්තන්ගේ විරාගී බව මුල් කරගෙන මිහිමඬල කම්පා වුනා නම් ඒ ශ්‍රාවකයොනෙ. එක ජීවිතයකදී වෙස්සන්තර

ජීවිතේදි පොළොව අට වතාවක් කම්පා වුනේ බෝධිසත්ත්ව ජීවිතේනෙ. එහෙව් එකේ ඒ සසරක පින් ඉස්මතු වෙලා මෙච්චර ඥාණ සමුදායක් බෝ සෙවණේ එක මොහොතෙම උපද්දවනකොට මේ මිහිමඩලට දරන්න පුලුවන් වුනේ ඒ ස්ථානය අකම්පිත නිසා. ඒකයි සෑම බුදුරජාණන් වහන්සේ නමක්ම පහළ වෙන්නේ එතන, වජිරාසනයේ. මේ පෘථිවියේ ඉස්සෙල්ලාම හැදෙනකොට ජල ගෝලය ඉස්සෙල්ලාම පොළොව හටගන්නේ වජිරාසනයේ. ඉරවල් හතක් පායලා මේ ලෝකය විනාශ වෙලා යද්දින් අවසානෙට පිච්චෙන්නේ වජිරාසනය තියෙන තැන. ඉතින් ඒ නිසා ඒ වජිරාසන භූමිය යම්කිසි කෙනෙකුට දඹදිව වජිරාසන භූමිය නළල තියලා වන්දනා කරගන්න ලැබුනා නම් සිත සිතා සිටින්න ඔබ වැන්දේ සුලු ස්ථානයක් නෙවෙයි. ඔබ රැස් කරගත්තේ සුලු පිනක් නෙවෙයි. බුදුරජාණන් වහන්සේලා හතර නමක් පහළ වුනු, ආනුභාව සම්පන්න භූමියක්. ඉතින් බුදුරජාණන් වහන්සේ තුළ පිහිටන ෂඩ් අසාධාරණ මොනවාද? ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය, ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, පඤ්ඤා කියන ඉන්ද්‍රියන්ගේ ස්වභාවය දකින්න පුලුවන් ඥාණය මීට කලින් වැඩසටහන් වලදී විස්තර කලා. ආසයානුසය ඥාණය. ආසයානුසය ඥාණය කියන්නෙ කෙලෙස් අඩු වැඩි බව දැකීමේ ඥාණය කියලා අපි විස්තර කරගමු. ඒක පැහැදිලිව විස්තර කලා. හිත ආශ්‍රය කරන විදිය, අනුසය ඇතිවෙන විදිය, චරිත ඇතිවෙන විදිය, ධර්මයට සුදුසු නුසුදුසුකම් ඇතිවෙන විදිය, චරිත ස්වභාවය අනුව පෑහිලා යන එක. ඒවා ඔක්කොම දකිනවා ආසයානුස ඥාණයෙන්. ඊළඟට යමක මහා ප්‍රාතිහාර්ය ඥාණය. යමක මහා ප්‍රාතිහාර්ය ඥාණය බුදු කෙනෙක් පමණයි ඒ ඍද්ධිය දක්වන්නේ. ඊළඟට මහා කරුණා සමාපත්ති ඥාණය අද අපි කතා කරනවා. ඊළඟට ගිය වැඩසටහනේ කතා කලා, සබ්බඤ්ඤුත ඥාණය. සබ්බඤ්ඤුත ඥාණය කියලා කියන්නේ සියලූම ධර්මයන් අතීත, අනාගත, වර්තමාන සියලූම ධර්මයන් අවබෝධ කලා, ඒ පිළිබඳව දන්නා දකිනා ඥාණය තියෙනවා සියල්ලම ඒක සබ්බඤ්ඤුත ඥාණය. ඒ අවබෝධය පිණිස, බුදුරජාණන් වහන්සේගේ ඥාණය පිණිස කිසිම බාධාවක් ආවරණයක් නෑ. කිසිම බාධාවක් නැතිව හැමදෙයක්ම භාග්‍යවතුන් වහන්සේට දකින්න පුලුවන්. ආන්න ඒකට කියනවා අනාවරණ ඥාණය කියලා. එතකොට ඒ ෂඩ් අසාධාරණ ඥාණ වලින් අපි කතා කලේ නැත්තේ මහා කරුණා සමාපත්ති ඥාණය. ඉතින් අද අපි කතා කරනවා මහා කරුණා සමාපත්ති ඥාණය පිළිබඳව. එතකොට පින්වතුනි මහා කරුණා සමාපත්ති ඥාණය පටිසම්භිදාමග්ග ප්‍රකරණයේ තියෙන විදියට අපි කතා කරමු. බුදුරජාණන් වහන්සේගේ මහා කරුණාව ගැන

ඔබ අහලා තියෙන්නේ, බුදුරජාණන් වහන්සේ සෑම දිනකම අළුයම අවදිවෙලා බුදුරජාණන් වහන්සේ මහා කරුණාවෙන් ලෝකය දෙස බලනවා. මහා කරුණාවෙන් ලෝකය දෙස බලනකොට බුදුරජාණන් වහන්සේට සියලූම දෙනා පේනවා. තුන්ලෝක වාසී සියලුම සක්වලවල් හැම සක්වලකම ජීවීන් පේනවා තත්පරේට. එතකොට ඒ පෙනුනට පස්සෙ පිහිට වෙන්න ඕන අය කව්ද, අද මා කා ළඟට ද පැමිණෙන්නේ, කාටද ධර්මය දේශනා කරන්නෙ, කව්ද සරණේ පිහිටන්නේ, කව්ද සරණ පඤ්චසීලයේ පිහිටන්නෙ, කව්ද දෙව්ලොව යන්නේ, කව්ද නිරයෙන් වැළකෙන්නේ, කව්ද සෝවාන් වෙන්නෙ, කව්ද සකදාගාමී වෙන්නෙ, අනාගාමී වෙන්නෙ, රහත් වෙන්නෙ, කොයි දෙව්ලොවටද, බඹලොවටද, කොයි සක්වලටද මා වඩින්නෙ, ඒ සියල්ලම භාග්‍යවතුන් වහන්සේට මහා කරුණා සමාපත්තියෙන් පේනවා. බුදුරජාණන් වහන්සේ තරම් කරුණාවෙන් අග්‍ර වූ උත්තමයෙක් තුන් ලෝකෙම නෑ. බුදුරජාණන් වහන්සේ තරම් කරුණාව තියෙන උත්තමයෙක් අතීතයේ හෝ අනාගතයේ හෝ වර්තමානයේ හෝ බුදුරජාණන් වහන්සේම හැර තවත් කෙනෙක් නම් නෑ. ඉතින් ඒ නිසා පින්වතුනි බුදුරජාණන් වහන්සේට තිබ්බ අසීමිත, සිතාගත නොහැකි තරම් ආනුභාව සම්පන්න ඥාණයක් තමයි මේ මහා කරුණා සමාපත්ති ඥාණය. කතමං තථාගතස්ස මහා කරුණා සමාපත්තියා ඥාණං, කුමක්ද තථාගතයන් වහන්සේට තියෙන මහා කරුණා සමාපත්ති ඥාණය? බහූකේහි ආකාරේහි පස්සන්තානං බුද්ධානං භගවන්තානං සත්තේසු මහා කරුණා ඔක්කමති, බුදුරජාණන් වහන්සේ නුවණැසින් සහ බුදු ඇසින් දිවැසින් ඒ විදියට බලනකොට මේ ලෝක සත්ත්වයා දෙස කරුණාව උපදිනවා බුදුරජාණන් වහන්සේට. දැන් ඔන්න පින්වතුනි, වැඩකටයුත්තක්, ඔබ හොඳට ලියන්න දන්නවා. ඊටපස්සෙ තව කෙනෙකුට ලියන්න බෑ. එතකොට ලියන්න බැරි කෙනා දිහා දකිනකොට ඔබට හිතෙන්නේ මේකට මේක ලියාගන්නවත් බෑනෙ අප්පා. තරහත් යනවා, මට දුන්න නම් කරලත් ඉවරයි කියලා. බුදුරජාණන් වහන්සේට එහෙම නෙවෙයි. බුදුරජාණන් වහන්සේ නිකෙලෙස්. බුදුරජාණන් වහන්සේ මේ ලෝක සත්ත්වයා දිහා බලනකොට ඇතිවෙන හැඟීම තමයි කරුණාව. බුදුරජාණන් වහන්සේට, දැන් ලෝක සත්ත්වයාට කෙනෙක් දිහා බැලුවට පස්සෙ එක්කො රාගය ඇතිවෙනවා, එක්කො ද්වේෂය ඇතිවෙනවා, එක්කො මෝහය ඇතිවෙනවා. රාග, ද්වේෂ, මෝහ විතරයි මනුස්සයෙක් දිහා බැලුවට පස්සෙ ඇතිවෙන්නෙ. එක්කො ඉරිසියාව, තරහ, ක්‍රෝධය, මනාප අමනාප බව, ඕවනෙ මනුස්සයෙක් දිහා බලපුවාම

ඇතිවෙන්නෙ. බුදුරජාණන් වහන්සේට ඇතිවෙන්නෙ කරුණාව. බුදුරජාණන් වහන්සේ, එතකොට මේ ලෝක සත්ත්වයා දිහා බලනකොට බුදුරජාණන් වහන්සේගේ හිතේ ඇතිවෙන ස්වභාවය තමයි කරුණාව. ආන්න ඒ කරුණාව ඇතිවෙන ස්වභාවයට කියනවා මහා කරුණා සමාපත්තිය කියලා. ආදිත්තෝ ලෝක සන්නිවාසෝති පස්සන්තානං බුද්ධං භගවන්තානං සත්තේසු මහා කරුණා ඔක්කමති. බුදුරජාණන් වහන්සේ ලෝකෙ දිහා බලනකොට පේනවා දුක් ගිනි වලින් ගිනි ගෙන ඉන්නවා පේනවා. දුක් ගිනි වලින් ගිනි ගෙන ඉන්නවා පේනවා. එතකොට බුදුරජාණන් වහන්සේ දුක් ගින්නෙන් ගිනි ගන්නැනෙ. දුක් ගින්නෙන් ගිනි ගන්න මිනිස්සු දැක්කාට පස්සෙ බුදුරජාණන් වහන්සේට මහා කරුණාව ඇතිවෙනවා. ඊටපස්සෙ උයුත්තෝ ලෝක සන්නිවාසෝති පස්සන්තානං බුද්ධානං භගවන්තානං සත්තේසු මහා කරුණා ඔක්කමති, මේ ලෝක සත්ත්වයාගේ වැඩේම වැඩ කර කර ඉන්න එක. මොනවාහරි කරනවා. ගොඩනැගිලි හදනවා, ඉගෙන ගන්නවා, කනවා, බොනවා, එහෙ යනවා, මෙහෙ යනවා, මොනවාහරි වැඩ. එක්කො නිදාගන්නවා. මොනවාහරි කටයුතු වලින්ම ජීවිතේ ගෙවි ගෙවී යනවා. සමහර මිනිස්සු කියනවා මැරෙන්න වෙලාවක් නෑ අප්පා කියලා. බණක් අහන්න වෙලාවක් නෑ, භාවනාවක් කරන්න වෙලාවක් නෑ, සිල් ගන්න වෙලාව නෑ. එතකොට වැඩ, එච්චරටම වැඩ. ඉතින් බුදුරජාණන් වහන්සේට වැඩ කටයුතු වල යෙදී ඉන්න මේ සත්ත්වයා දෙස දකිනකොට මහා කරුණාව උපදිනවා. ඇයි පින්වතුනි, අවුරුදු කෝටි ගණන් නිරයේ ඉඳලා එන්නෙ මනුස්ස ලෝකෙට. ආපු ගමන් වැඩ. තිරිසන් ලෝකෙ බල්ලො, බළල්ලු, කුකුළො, පණුවො, ගැඩවිල්ලො, කෘමී සත්තු වෙලා ඉඳලා මනුස්ස ලෝකෙට එන්නෙ. ආපු ගමන් වැඩ. පෙරේත ලෝකෙ කැහි හොටු සෙම කකා ඉඳලා මනුස්ස ලෝකෙට එන්නේ. ආපු ගමන් වැඩ. ඊටපස්සෙ අසුර නිකායවල් වල බොහෝ දුක් විඳලා මනුස්ස ලෝකෙට එන්නේ. වැඩ. දැන් වැඩිය ඕන නෑ, දැන් බලන්න අම්මලා ගත්තොත් අම්මලා උයනවා, වළං හෝදනවා, උයනවා වළං හෝදනවා, උයනවා, කොච්චර නම් බත් තම්බලා ඇති ද. කොච්චර වැඩ ද. කොච්චර රෙදි සෝදලා ඇති ද. දැන් ඔන්න යාන්තම් මැෂින් තියෙන හින්දා, ඒකත් ඉතින් වැඩක්නෙ දාන්නෙපෑ රෙදි දාන්න ඕන. සබන් කුඩු දාන්න ඕන. වතුර දාන්න ඕන. ඊටපස්සෙ මොන මොනවාහරි වැඩ. දැන් අපි ලියනවා, ලියනවා, ලියනවා. ළමයින් ලියනවා, ලියනවා, ලියනවා. ඔක්කොම වැඩ කටයුතු. ඊටපස්සෙ රියදුරු මහත්තයා සුක්කානම කරකවනවා, කරකවනවා, කරකවනවා, ගුරුවරු උගන්වනවා, උගන්වනවා, එකම පාඩම

නිස්පස්වතාවක් උගන්වනවා. ඔක්කෝම වැඩ කටයුතු වල. එළවලු වෙළෙන්දා වෙළඳාම් කරනවා. මේ සතර අපායේ අවුරුදු කෝටි ගණන් දුක් විඳලා දුක් විඳලා ඇවිල්ලා බුද්ධ ශාසනයකුත් ලැබිච්ච වෙලාවේ මිනිස්සු ඔක්කෝම වැඩ ගොඩක ඉන්නවා පේනවා. ගාණක් නෑ සසර දුකින් නිදහස් වෙන්න ඕන කියලා. එතකොට මේ සත්ත්වයො දිහා බුදු කෙනෙකුත් පහළ වෙලා. රහතන් වහන්සේලාත් පහළ වෙලා. මිනිස්සු පරණ වැඩ ගොඩේම ඉන්නවා. බුදුරජාණන් වහන්සේට ඒක පේනවා, බුදු ඇසට, නුවණැසට. දිවැසට පේනවා. දැන් මොකක්ද බුදුරජාණන් වහන්සේට ඇතිවෙන හැඟීම? මහා කරුණාව උපදිනවා. දැක්කද වෙනස. ඊළඟට තියෙනවා ගොඩක් මහන්සි වෙනවා. වෙහෙස මහන්සි වෙනවා. ඊළඟට පායාති, ගොඩාක් කටයුතු වල යෙදී වාසය කරනවා. ඊළඟට තියෙනවා කුම්මග්ග පටිපන්නෝ ලෝක සන්නිවාසෝති, මේ ලෝක සත්ත්වයා වැරදි මාර්ගයේ යනවා. එක්කෙනෙක් ෆෝන් එකක් බදාගෙන වැරදි මාර්ගයක යනවා. තවත් කෙනෙක් කවුරුහරි ස්ත්‍රියක් හොයාගෙන වැරදි මාර්ගයක යනවා. තව කෙනෙක් පිරිමියෙක් හොයාගෙන වැරදි මාර්ගයක යනවා. තව කෙනෙක් ෆේස්බුක් එක අරන් වැරදි මාර්ගයක යනවා. ඉන්ටනෙට් එක අරන් වැරදි මාර්ගයේ යනවා. මොනවාහරි මත්ද්‍රව්‍යයකට ඇබ්බැහි වෙලා වැරදි මාර්ගයේ යනවා. මොනවාහරි මනස්ගාත හිත හිතා වැරදි මාර්ගයේ යනවා. එක්කෝ මොකාක්හරි කවුරුහරි කියපු මිත්‍යාදෘෂ්ටියක් අල්ලගෙන ඒ මාර්ගයේ යනවා. මේ විදියට මිනිස්සු වැරදි මාර්ගයේ යනවා. මේක භාග්‍යවතුන් වහන්සේට පේනවා. එතකොට බුදුරජාණන් වහන්සේට වැරදි මාර්ගයේ යන සත්ත්වයා පෙනෙද්දී මහා කරුණාව උපදිනවා. එතකොට පින්වතුනි ඊළඟට මොකක්ද බුදුරජාණන් වහන්සේ කරන්නෙ. දැන් පෙනුණට පස්සෙ කරුණාව ඇතිවෙනවා. දැන් මොකද කරන්නෙ? එතකොට පින්වතුනි පේන්නෙ නිකං නෙවෙයි. ආසයානුසය, ඒ අයගේ කෙලෙස් අඩු වැඩි බව පේනවා. ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය, ඉන්ද්‍රියන්ගේ දියුණු පමුණු බව පේනවා. ධර්මය අවබෝධ කරන්න පුලුවන්ද බැරිද පේනවා. සසර පේනවා. ඊටපස්සේ පිහිට වෙන්න පුලුවන් කෙනෙක් නම් පිහිට වෙනවා. කුඹුරේ සීසාසා ඉන්නවා. වැඩ කර කරනෙ ඉන්නෙ. පිහිට වෙනවා. ඇයි බුදුරජාණන් වහන්සේ අනිත් ඥාණ වලින් දැක්කා එයාගෙ පින. බුදුරජාණන් වහන්සේට ආසයානුස ඥාණයෙන් පේනවා කෙනෙක් ද්වේෂයෙන් ඉන්නවා. නමුත් ඇතුලේ තියෙනවා ද්වේෂය දුරු කරන ස්වභාවය. ඒක ආසයානුසයට පේනවා. එතකොට බුදුරජාණන් වහන්සේට පේනවා ඇඟිලි, මුළු ශරීරය පුරාම ඇඟිලිවලින් වහගෙන ඇඟිලි

මාලයකින්, කඩුවක් අරන් එක මනුස්සයෙක් හොයා හොයා ඉන්නවා ඇඟිල්ලක්. ද්වේෂයෙන් ඉන්නවා. බුදුරජාණන් වහන්සේ වඩිනවා. බුදුරජාණන් වහන්සේ ආසයානුසය ඥාණයෙන් දැක්කානෙ මෙයාව නිකෙලෙස් කරන්න පුලුවන් කියලා. ඕනම දුරක් වඩිනවා. ඕනම දුරක් වඩිනවා. ඉස්සෙල්ලාම බුදුරජාණන් වහන්සේ එයාව දකින ස්වභාවය තමයි මහා කරුණාව. ඒ දැකීමත් එක්ක තමයි අනිත් ඥාණ ඔක්කෝගේම භාග්‍යවතුන් වහන්සේට පේන්නෙ. ඕන දුරක වඩිනවා. මහා කරුණා සමාපත්ති ඥාණය. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දුටුවා උපනීයතේ ලෝකෝ අද්ධෝ, බුදුරජාණන් වහන්සේ දුටුවා, මේ ලෝක සත්ත්වයා ජරා මරණ වලටම ඇදගෙන යන්නේ, ස්තීරසාර දෙයක් නෑ. නමුත් මිනිස්සු අල්ලගන්නවා, හැමදෙයක්ම මිනිස්සු අල්ලගන්නවා. නමුත් මිනිස්සු ඇදගෙන යන්නෙ ජරා මරණ. එයාට නවත්තගන්න බෑ. ඇදගෙන යනවා ජරා මරණ වලට. එයා මෙහෙන් ඉඩකඩම් ගන්නවා. යාන වාහන, දරු පවුල් ඔක්කොම අල්ලගෙන එයා ඉන්නවා. එයා ජරා මරණ කරා යද්දි. ඒ සත්ත්වයෝ පේනවා බුදුරජාණන් වහන්සේට. එතකොට බුදුරජාණන් වහන්සේට මහාකරුණාව උපදිනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ දැක්කා අතානෝ ලෝකෝ අනබිස්සරෝති, බුදුරජාණන් වහන්සේ දැක්කා අනාරක්ෂිතයි මේ ජීවිතේ මේ ලෝක සත්ත්වයාට. ඉසුරුමත් බවක්, තමන්ගේ අධිපතිකමක් පවත්වන්න බෑ. කිසිම ආරක්ෂාවක් නැතිව මිනිස්සු ඉන්නෙ. දැන් අපි අද කාලෙ වචන වලින් මේක තේරුම් ගන්න ඕන. ඒක තමයි මේ බුද්ධ වචනයෙන් විස්තර කරපු විදිය. අපි ගත්තොත් එහෙම වාහනයක යනකොට අපිට ආරක්ෂාව නෑ, යන වාහනේට ආරක්ෂාවක් නෑ, ඉස්සරහින් එන වාහනේට ආරක්ෂාවක් නෑ. ඇහැට පේන්නැති වෛරසයකින් මනුස්සයෙක්ව විනාශ කරන්න පුලුවන්නෙ. එතකොට ඒ වාගේ කොච්චර අපි අනාරක්ෂිතයි ද කියලා බලන්න. මදුරුවෙක්ගෙන් අපේ ජීවිතේ නැතිවෙන්න පුලුවන්නෙ. අනාරක්ෂිතයිනෙ. එතකොට අපේම ඇඟේ දුවන ලේ ටික කැටිගැහිච්ච ගමන් අපි මැරෙනවානෙ. අනාරක්ෂිතයිනෙ. කණ කෑම උගුරෙ හිරවෙච්චි ගමන් මැරෙනවානෙ. අනාරක්ෂිතයිනෙ. ගන්න හුස්මම නැවතිච්චි ගමන් මැරෙනවා. අනාරක්ෂිතයිනෙ. යන ගමනම පය පැටලිලා කොහෙහරි වැටිච්චි ගමන් මැරෙනවා. අනාරක්ෂිතයිනෙ. කිසිම පිහිටක් පිළිසරණක් නෑ අපිට. එතකොට ඒ වාගේ ලෝක සත්ත්වයෝ පේනවා. අනාරක්ෂිතව ඉන්නෙ මේ ලෝක සත්ත්වයා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේට එහෙම දකිනකොට ඕන්න ඉපදෙනවා භාග්‍යවතුන් වහන්සේට මහා කරුණාව. ඌනෝ ලෝකෝ

අනිත්තෝ තණ්හා දාසෝති පස්සන්තානං බුද්ධානං භගවන්තානං සත්තේසු මහා කරුණා ඔක්කමති, බුදුරජාණන් වහන්සේ දකිනවා මේ ලෝක සත්ත්වයාට හැම වෙලාවෙම තියෙන්නෙ අඩුවක්. මොකක්හරි අඩුවක් තියෙනවා. තෘප්තිමත් නෑ එයාලගේ ජීවිතේ ගැන. තෘෂ්ණාවට දාස වෙලා ඉන්නවා. ඔන්න අපේ කතාව මේ කියන්නෙ. බලන්න හැම කෙනාගෙම ජීවිතේ මොකක්හරි ඌණතාවයක් තියෙනවා. අපි ගත්තත් අපිට ධර්මාවබෝධය. ඊළඟට දියුණු කරගන්න බැරි ගුණධර්ම ගැන. අපිටත් ඌණ බවක් තියෙනවා. එතකොට ඔබගේ ජීවිත වලත් බලන්න. මොකක්හරි අඩුවක් තියෙනවා. කොතනකහරි අඩුවක් තියෙනවා. මදි. තෘප්තිමත් නෑ. ලෝක සත්ත්වයා තෘෂ්ණාවට දාස වෙලා ඉන්නෙ. කෑමට ආසයි, කෑම කනවා. ගෙවල් දොරවල් වලට ආසයි, ඒවා හදාගන්නවා. මොනවාහරි ආසාවෙන් තමයි එයාව නටවා නටවා ඉන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේට පේනවා බුදු ඇසට. නුවණැසට පේනවා. දිවැසට පේනවා. මහා කරුණාව උපදිනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේට පේනවා, අලේනෝ ලෝක සන්නිවාසෝති, ඒ කියන්නෙ මේ ලෝක සත්ත්වයා ඇලෙන්නමයි බලන්නෙ. කොහේටහරි ඇලෙනවා. මොකක්හරි අරමුණක් ග්‍රහණය කරගන්නවා. ඊටපස්සෙ ඊළඟ කරුණ තමයි අසරණෝ ලෝක සන්නිවාසෝති, මේ ලෝක සත්ත්වයා අසරණයි. කියන්නේ කිසිම පිහිටක් පිළිසරණක් නැතිව බයවීමෙන් ඉන්නෙ මේ ලෝක සත්ත්වයා. අසරණයි. එතකොට ඒක පේනකොට බුදුරජාණන් වහන්සේට මහා කරුණාව උපදිනවා. අසරණී භූතෝ ලෝක සන්නිවාසෝති, මේ ලෝක සත්ත්වයා අසරණී භූතෝ, දැන් පින්වතුනි, අසරණයි අසරණී භූතයි කියන්නෙ දෙකක්. අසරණයි කියන්නෙ බුදු කෙනෙකුත් පහළ වෙලා ඉන්නවා, රහතන් වහන්සේලාත් වැඩ ඉන්නවා. සරණක් ගන්නෑ, ඒ අය අසරණයි. අසරණී භූතෝ කියලා කියන්නෙ බුදු කෙනෙකුත් නෑ, ධර්මයකුත් නෑ, පිහිටක් ගන්න විදියකුත් නෑ, අසරණ බවේම ජීවිතේ ගිලිලා, පිහිටක් නෑ, ඒ අය අසරණී භූත. දැන් මේ අද කාලෙ ඉන්නෙ අසරණයි. ඒ කියන්නෙ සරණක් තියෙනවා. පිහිට ගන්නැතිව ඉන්නවා. එතකොට මේ ලෝක සත්ත්වයා දෙස බලනකොට භාග්‍යවතුන් වහන්සේට මහා කරුණාව උපදිනවා. උද්ධතෝ ලෝක උපසන්තෝ, මේ ලෝකයේ සත්ත්වයා උද්දතයි, උඩඟුයි. උද්දච්ඡයි. ඊළඟට හිත් සන්සිඳිලා නෑ. සසල්ලෝ, මේ ලෝක සත්ත්වයා උල් ඇනගෙන ඉන්නෙ. මොකක්හරි ඇනගෙන ඉන්නෙ. කවුරුහරි ඇනපු එකක් හිතට ඇනගෙන ඒකෙන් විඳිවනවා. තමන් ආදරය කරපු කෙනෙක් කියපු වචනයක් හිතට ඇනගෙන ඒකෙන් විඳවනවා.

මොකක්හරි බැඳීමක් හිතට හදාගෙන ඒකෙන් විඳවනවා. මොකක්හරි ප්ලෑන් එකක් ඔලුවෙ තියාගෙන ඒකෙන් විඳවනවා. උල් වලින් ඇනගෙන විඳව විඳව ලෝක සත්ත්වයා ඉන්නෙ. මේ බලන්න අපේ කතාව. ඊටපස්සෙ තියෙනවා බුදුරජාණන් වහන්සේ දැක්කා කියනවා සසල්ලෝ ලෝක සන්නිවාසෝ විද්දෝ පුතුසල්ලේහි, ගොඩාක් උල් වලින් විදගෙන ඉන්නෙ මේ ලෝක සත්ත්වයා. තස්ස නත්තඤ්ඤෝ කෝචි සල්ලානං උද්ධාතා අඤ්ඤත්‍ර මයාති, අනේ මේ අයගේ කෙලෙස් උල් ගලවා දාන්න බුදු කෙනෙක් මිසක්කා තවත් කෙනෙක් නෑනෙ, මම මිසක්කා තවත් කෙනෙක් නෑනෙ කියලා බුදුරජාණන් වහන්සේට පේනවා. එතකොට බුදුරජාණන් වහන්සේට මහා කරුණාව උපදිනවා. අවිජ්ජන්ධකාරනාවරණෝ ලෝක සන්නිවාසෝ කෙලේශ පංජර පක්ඛිතෝ, මේ ලෝක සත්ත්වයා අවිද්‍යාවෙන් වැහිලා කෙලෙස් නැමැති කූඩුව ඇතුලේ ඉන්නෙ. තස්ස නත්තඤ්ඤෝ කෝචි ආලෝකං දස්සේත අඤ්ඤත්‍ර මයාති, මේ අයට ආලෝකයක් දීලා ගලවගන්න බුදු කෙනෙක් හැර වෙන කිසි කෙනෙක් නැත කියලා දකිනකොට බුදුරජාණන් වහන්සේට මහා කරුණාව උපදිනවා. එහෙනම් අපි ඉන්නෙ කොහොමද, අවිද්‍යා අන්ධකාරයේ තෘෂ්ණාව නැමැති කූඩුව අස්සේ, කෙලෙස් කූඩුව අස්සේ. ලෝක සත්ත්වයාට තියෙන නම්. අවිද්‍යාව කියන අන්ධකාරයේ කෙලෙස් කූඩුව අස්සේ ඉන්නෙ. එතකොට දැන් තේරෙනවා නේද බුදු කෙනෙක්ගේ ධර්මාලෝකය, ප්‍රඥාලෝකය නිසා මිසක්කා නම් මේවයෙන් ගැලවෙන්න නම් බෑ පින්වත්නි. ඊටපස්සෙ තියෙනවා බුදුරජාණන් වහන්සේගේ ඒ ඥාණය විස්තර කරලා, මහා කරුණා සමාපත්තිය. අවිජ්ජා ගතෝ ලෝක සන්නිවාසෝ අණ්ඩගූතෝ පරියෝ නද්දෝ, මේ ලෝක සත්ත්වයා අවිද්‍යාවෙන් වැහිලා මේ ජීවිත කූඩුව තුළ අවිද්‍යාව නැමැති බිත්තරය අස්සේ ඉන්නෙ මේ ලෝක සත්ත්වයා. ඒකෙන් යටවෙලා ඉන්නෙ. ඊළඟට මේ ලෝක සත්ත්වයා නත්තාකූලක ජාතෝ, හරියට පුලුන් ගොඩක් ඇවිස්සුනා වගේ, ඊළඟට නූල් ගොඩක් ඇවිස්සුනා වගේ මුඤ්ජනා බවුස්සන, ඇවිස්සුනා වගේ, ඇවිස්සිලා ඇවිස්සිලා කෙලෙස් වලින් අපායං දුග්ගතිං විනිපාතං සසාරං නාති වත්තතීති, සංසාර ගමනින් මේ සැරිසරන එකෙන් සතර අපායේ ඉක්මවලා නෑ මේ ලෝක සත්ත්වයා. ඉතින් මේවා බුදුරජාණන් වහන්සේ දකිනකොට බුදුරජාණන් වහන්සේට මහා කරුණාව උපදිනවා. අවිජ්ජා විසදෝස සංලිත්තෝ ලෝක, අවිද්‍යාව නැමැති විෂයෙන් පහර කාලා ඇලිලා ගැලිලා වෙලිලා මේ ලෝක සත්ත්වයා ඉන්නෙ. දැන් බලන්න අපි ඉන්න තැන. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ සත්ත්වයා දෙස බලනකොට

මහා කරුණාව උපදිනවා. රාග, ද්වේෂ, මෝහ වලින් මේ ලෝක සත්ත්වයා පීඩාවට පත්වෙලා ඉන්නෙ. ඊළඟට තණ්හාවෙන් බැදිලා, තණ්හාවට යටවෙලා, තණ්හාව නැමැති සැඩපහරට අහුවෙලා, තණ්හාව නැමැති සංයෝජනයට අහුවෙලා, තණ්හාව නැමැති එක්වීමට එකතු වෙලා, තණ්හාව නැමැති පීඩාවෙන් පීඩාවට පත්වෙලා, තණ්හාව නැමැති තණ්හා පරිලාහේන පරිලහයති, තණ්හාව නැමැති ගින්නෙන් පිච්චි පිච්චී මේ ලෝක සත්ත්වයා ඉන්නවා. බුදුරජාණන් වහන්සේට මේක පේනවා. මහා කරුණා ඇසට. පේනකොට බුදුරජාණන් වහන්සේගේ මහා කරුණාව උන්වහන්සේට මහා කරුණාව උපදිනවා. මේක තමයි මහා කරුණා සමාපත්ති ඥාණය. බුදුරජාණන් වහන්සේට ලෝකය සමඟ රාගයක් හෝ ද්වේෂයක් හෝ ඇලීමක් හෝ ඒ මොනවත් නෑ. බුදුරජාණන් වහන්සේට තියෙන්නෙ මහා කරුණාව. ඊටපස්සෙ දිට්ඨිසංගාත පටිමුක්බෝ, දෘෂ්ටි වලින් එක්කොට බැඳලා තියෙන්නෙ මේ ලෝක සත්ත්වයා. දෘෂ්ටි වලින් පිච්චෙනවා. දෘෂ්ටිය නැමැති සැඩ පහරේ ගහගෙන යෙනවා. දෘෂ්ටිය නැමැති පීඩාවෙන් පීඩා විදිනවා. දෘෂ්ටිය නැමැති ගින්නෙන් ඇවිලෙනවා. ඊළඟට මේ ලෝක සත්ත්වයා ජාති ජරා මරණ සෝක පරිදේව දුක්ඛ දෝමනස්සයන්ගෙන් සියලු කරදර වලට භාජනය වෙලා ප්‍රපාතයකට වැටි වැටී මේ ලෝක සත්ත්වයා ඉන්නෙ. ඊළඟට තෘෂ්ණාවෙන් පීඩිත වෙලා, මේ ලෝක සත්ත්වයා ලෝකය දිහා බලන්නෙ තෘෂ්ණාවෙන්. දැන් අපි කිව්වෙ අපි මේ ඇහෙන් බලද්දි මේ ඇහේ නෙත් ගතියක් තියෙනවා. ඒක හරහා තමයි ලෝකය බලන්නෙ. බුදුරජාණන් වහන්සේගේ නෙත් සඟලේ තියෙන්නෙ කරුණාව. බුදුරජාණන් වහන්සේ ලෝකය දිහා බලන්නෙ කරුණාවත් එක්ක. මේ සාමාන්‍ය ලෝකයා ලෝකය දිහා බලන්නෙ තෘෂ්ණාවත් එක්ක. තෘෂ්ණාවත්, තෘෂ්ණාව නැමැති කඩඉම පැනලා තමයි ලෝකය දිහා බලන්නෙ. එතකොට එයා තෘෂ්ණාව ආලේප වෙච්චි කෙනෙක්. ඊටපස්සෙ මේ විදියට පින්වතුනි ලෝකයේ කෙලෙස් ගැන කෙලෙස් අනූ එකක් ගැන මේ පටිසම්භිදාමග්ග ප්‍රකරණයේ මහා කරුණා සමාපත්ති ඥාණය විස්තර කරනකොට කෙලෙස් අනූ එකක් ගැන විස්තර කරනවා. මේ උපාදාන වලින් බැඳිලා ඉන්න හැටි, විවාද වලට අහුවෙලා ඉන්න හැටි, නීවරණ, කාම ගුණ, ඒ වගේම අනුසය වලට අහුවෙලා තියෙන හැටි, දෝෂ වලට අහුවෙලා තියෙන හැටි, කෙලෙස් වලට අහුවෙලා තියෙන හැටි, දස සංයෝජන වලට අහුවෙලා තියෙන හැටි, සක්කායදිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස, කාමරාග, පටිගරාග, අරූප රාග, තණ්හා, උද්ධච්ඡ ආදී වශයෙන් මේ සංයෝජන වලින්

බැඳිලා බැඳිලා ඉන්න හැටි. ඊටපස්සෙ දෘෂ්ටි වලට, හැට දෙකක් දෘෂ්ටි වලට අහුවෙලා ඉන්න හැටි. මේ ඔක්කෝම බුදුරජාණන් වහන්සේ දකිනවා. දකිනකොට මහා කරුණාව උපදිනවා. අහං චම්හි තිණ්ණෝ ච ලෝකෝ ච අතිණ්ණෝ, මම සසරින්, සසර කතර කෙලෙස් සැඩ පහර තරණය කළා. ලෝකෝ ච අතිණ්ණෝ, ලෝකයාට ඒක කරගන්න බැරිවුනා. එතකොට එහෙම හිතෙනකොට බුදුරජාණන් වහන්සේට මහා කරුණාව උපදිනවා. අහං චම්හි මුත්තෝ, බුදුරජාණන් වහන්සේ නිදහස් වුනා. ලෝකෝ ච අමුත්තෝ. ලෝකයා නිදහස් වුන් නෑ, ඉතින් බුදුරජාණන් වහන්සේ ලෝකයා දිහා බලනකොට කරුණාව උපදිනවා. අහං චම්හි දන්තෝ, බුදුරජාණන් වහන්සේ දමනය වුනා. ලෝකෝච අදන්තෝ, ලෝකයා දමනය වෙලා නෑ. ඉතින් බුදුරජාණන් වහන්සේට ඒ දමනය නොවුනු ලෝකයා දකිනකොට මහා කරුණාව උපදිනවා. අහං චම්හි සන්තෝ, ලෝකෝච අසන්තෝ, මම සාන්ත වුනා, ලෝකයා අසාන්තයි. ලෝකයා දෙස බලනකොට මහා කරුණාව උපදිනවා. ඊළඟට අහං චම්හි අස්සතෝ ලෝකෝච අනස්සතෝ, මම අස්වැසිල්ලක් ලැබුවා. ලෝකයාට අස්වැසිල්ලක් නෑ. දකිනකොට බුදුරජාණන් වහන්සේට කරුණාව උපදිනවා. අහං චම්හි පරිනිබ්බුතෝ ලෝකෝච අපරිනිබ්බුතෝ, මම පිරිනිවන් පෑවා, ලෝකයා පිරිනිවන් පෑවෙ නෑ. දකිනකොට කරුණාව ඉපදුනා. තහෝමි ක්වාහං තිණ්ණෝති කාරෝති, මට පුලුවන් මේ අය එතෙර කරවන්න, මුත්තෝ මෝතයෙචුං, නිදහස් වෙන අය නිදහස් කරවන්න මට පුලුවන්. දන්තෝ දමේතුං, දමනය වන අය දමනය කරන්න පුලුවන්. සන්තෝ සමේතුං, සාන්ත වන අය සාන්ත කරවන්න පුලුවන්. අස්සතෝ අස්සාසේතුං, අස්වැසිල්ලක් ලබන්න හැකි අය අස්වැසිල්ලක් ලබවන්න භාග්‍යවතුන් වහන්සේට ඒක කරන්න පුලුවන්. පරිනිබ්බුතෝ පරිනිබ්බාපේතුංති, පිරිනිවන් පාන්න හැකි අයට පිරිනිවන ලබලා දෙන්න බුදුරජාණන් වහන්සේට පුලුවන්. පස්සන්තානං බුද්ධං භගවන්තානං සත්තේසු මහා කරුණා ඔක්කමති, ඉතින් බුදුරජාණන් වහන්සේට මේ විදියට දකිනකොට මේ සත්ත්වයන් ගැන මහා කරුණාව උපදිනවා කියලා බුදුරජාණන් වහන්සේගේ මහා කරුණා සමාපත්තිය විස්තර වෙනවා. ඉදං තථාගතස්ස මහා කරුණා සමාපත්තියේ ඥාණං, මේක තමයි තථාගතයන් වහන්සේගේ මහා කරුණා සමාපත්ති ඥාණය. ඒ කාරණාව කෙටියෙන් අපි තේරුම් ගමු මෙහෙම තවත්. මහා කරුණා සමාපත්ති කියන්නෙ අසිරිමත් ඥාණයක්. ඒ තමයි බුදුරජාණන් වහන්සේ රාගය ප්‍රහාණය කළා. රාගයෙන් ඉන්න මිනිස්සු දිහා දකිනකොට බුදුරජාණන් වහන්සේට මහා

කරුණාව උපදිනවා. ඇයි බුදුරජාණන් වහන්සේට දැන් මේ අවසාන ඡේද ටික තියෙනවා, බුදුරජාණන් වහන්සේට රාගය ප්‍රහාණය කරන මාවත කියලා දෙන්න පුලුවන්. හැකියාව තියෙනවා. අපි කියමු දක්ෂ වෛද්‍යවරයෙකුට, ඕනම බෙහෙතක් දන්න දක්ෂ වෛද්‍යවරයෙක් ලෙඩෙක් ගැන දකිනවා. දකිනකොට ඒ දක්ෂ වෛද්‍යවරයා ඒ රෝගයයි බෙහෙතයි ඔක්කොම වෛද්‍යවරයාගේ හිතට එනවා. ඉතින් පව්, මේ මනුස්සයා බේරගන්න ඕන කියන හැඟීම එනවානෙ. ඒක තමයි මහා කරුණාව. මහා කරුණාව. ඉතින් ඕනවෙන්නෙ ඒ ලෙඩාට, වෛද්‍යවරයා ගැන විශ්වාසය ඕන. ඔහු කරා පැමිණුනාට පස්සෙ වෛද්‍යවරයා ඔහු සුව කරනවා. ඒ නිසා අපේ කෙලෙස් රෝග, අපේ හිත් වල තියෙන ජරාව, රාගය, ද්වේෂය, මෝහය, ඉරිසියාව, කුහකකම් මේවා බුදුරජාණන් වහන්සේ ඉදිරියේ අනේ මේවා බුදුරජාණන් වහන්සේට පිළිකුල් ද, බුදුරජාණන් වහන්සේට කිළි ද මේවා, එහෙම නෙවෙයි. එතන තියෙන්නෙ බුදුරජාණන් වහන්සේ ඔවුන් දෙස බලද්දි බුදුරජාණන් වහන්සේට උපදින්නෙ කරුණාව. ඉතින් අපි ශ්‍රද්ධාව උපදවාගෙන බුදුරජාණන් වහන්සේගේ සරණ කරා පැමිණෙනවා නම් බුදුරජාණන් වහන්සේට අපිව සුව කරන්න ලේසියි. වෛද්‍යවරයාට ලෙඩා දැක්ක ගමන් ලෙඩයි බෙහෙතයි ඔක්කොම මතක් වෙනවා. ඒ ලෙඩා තමන්ගේ ලෙඩේ සුව කරගැනීමේ කැමැත්තෙන් වෛද්‍යවරයා කරා එළඹෙන්න ඕන. මොන කොච්චර බරපතල ලෙඩක් තිබ්බත්. මොකද ඔහු සුව කරන්නෙ ඔහු නෙවෙයි. වෛද්‍යවරයා. ඒ වගේ පින්වතුනි කෙලෙස් රෝගයෙන් පීඩා විඳ විඳ ඉන්නෙ අපි. මේ කෙලෙස් රෝග වලින් පීඩා විඳ විඳ ඉන්න සත්ත්වයා නිදහස් කරන්න භාග්‍යවතුන් වහන්සේට පුලුවන්. අපි භාග්‍යවතුන් වහන්සේගේ සරණ කරා යන්න ඕන. බුදුරජාණන් වහන්සේගේ සරණට යන්න ඕන. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේට අපිව සුවකරන්න ලේසියි. මේ කියන එක තේරුම් ගන්න. තිසරණයේ, නිතර මේ බුදුරජාණන් වහන්සේගේ සරණට පැමිණීමේ ආශ්චර්යයී ඔබගේ ජීවිතය සම්පූර්ණයෙන් වෙනස් වෙයි පින්වත්නි, ගොඩාක් වෙනස් වෙයි. මේ ලෝක සත්ත්වයා කොච්චර බුදුරජාණන් වහන්සේගේ සරණෙන් පිහිට ලැබුවාද. මේ අශූචි අදින අය, අශූචි අල්ලපු අත්වලින් ඉර හඳ අතගෑවා පින්වත්නි. වී කොටා කොටා, කුල්ල අතට අරන් හාල් පොල පොලා බත් උය උයා ඉඳපු ස්ත්‍රීන් අර්හත්වයට පත්වෙලා ඍද්ධියෙන් ඉර හඳ අතගෑවා පින්වත්නි. පිස්සු හැදිලා මේ මහා පාරෙ දුවගෙන දුවගෙන ගිය අයට බුදුරජාණන් වහන්සේ අමා මහ නිවන ලබලා දුන්නා. මහා කරුණා සමාපත්ති ඥාණය. ඉතින් බුදුරජාණන් වහන්සේගේ

කරුණාව, බුදුරජාණන් වහන්සේ රාහුල ස්වාමීන් වහන්සේ ගැනත් දේවදත්තයන් ගැනත් තියෙන්නෙ මහා කරුණාව. ඉතින් පින්වතුනි බුදුරජාණන් වහන්සේට, ඒ මහා කරුණාවෙන්නේ බුදුරජාණන් වහන්සේ අපිට ධර්මය දේශනා කලේ. කොච්චර අනුකම්පාවෙන් ද. දැන් බලන්න අපායසංවත්තනික සූත්‍ර දේශනාව ගත්තොත් ප්‍රාණඝාතය කරන කෙනා ඒ කර්මය මුල් කරගෙන නිරයේ යනවා, තිරිසන් ලෝකෙ යනවා, ප්‍රේත ලෝකෙ යනවා. මනුස්ස ලෝකෙකට ආවොත් අවම විපාකය විඳිනවා, අඩු වයසින් මැරෙනවා. අඩු වයසින් මැරෙනවා කියන්නෙ කීදෙනෙකුට දුකක් ද පින්වත්නි. දැන් අද කාලෙ වගේ මේ බුද්ධ ශාසනය කතාවෙන අද යුගයේ කෙනෙක් ඉපදුනා කියන්නකො. එයා පුංචි කාලෙම මැරුණොත් එහෙම අපරාදයක්නෙ. මෙච්චර බුද්ධ ශාසනයක් තියෙන වෙලාවෙ. අපි එයත් පැත්තක තියන්නකො. බුදු කෙනෙක් ලෝකෙ පහළ වෙලා ඉන්න කාලෙ, පුංචි කාලෙම මැරෙනවා. බුදුකෙනෙක් මුණගැහෙන්න කලින්. එතකොට ඒක අපරාදයක්නෙ, අඩු වයසින් මැරෙන එක. ඊළඟට නිරයේ ගිනිදැල් මත පිච්චෙන එක කොච්චර ඒ සත්ත්වයාට විපාකයක් ද. ඉතින් බුදුරජාණන් වහන්සේගේ කරුණාව නිසා නේද වදාළේ ප්‍රාණඝාතය කරන්න එපා කියලා. සොරකම් කරන කෙනා නිරයේ යනවා, තිරිසන් ලෝකෙ යනවා, ප්‍රේත ලෝකෙ යනවා. මනුස්ස ලෝකෙකට ආවට පස්සෙ එයාගෙ සකල සේසත නැතිවෙනවා. අවුරුදු ගණන් හම්බකරපු, පිටරට ඉඳලා අවුරුදු දහය පහළොව හම්බකරගෙන මෙහෙ ඇවිල්ලා බිස්නස් එකක් පටන් ගන්නවා, ඔක්කොම නැතිවෙලා යනවා. එක බිස්නස් එකෙන්ම ඉවරයි. සමහර විට පිටරට ඉඳලා අහිංසක කාන්තාවො හම්බ කරන එක මේ මනුස්සයාට එවනවා, මේ මිනිහා ඒ ඔක්කොම නැති කරලා දානවා බීලා. තියෙන සකල සේසත විකුණලා. එතකොට බලන්න අරයා හම්බකරපු දේ නැතිවුනානෙ. ඇයි මේ? මේ සසරේ සොරකම් කිරීමේ විපාක ඔය. ඊළඟට බුදුරජාණන් වහන්සේ කොච්චර කරුණාවෙන් ද, අපි ගැන කරුණාවෙන්ද වදාළේ සොරකම් කරන්න එපා කියලා. වැරදි කාම සේවනය කලාට පස්සෙ සසරෙ නරක, තිරිසන්, ප්‍රේත, අසුර ලෝක වල උපදිනවා. මනුස්ස ලෝකෙට ආවට පස්සෙ අවම විපාකය තමයි යන යන තැන් වල සතුරො හැදෙනවා. ඊළඟට වැරදි කාම සේවනයේ විපාක තමයි කළුකුමාර දෝෂය, තනිකම් දෝෂය වැටෙන එක. ඒ කියන්නෙ එයාගේ ඇඟේ, අමනුස්සයෝ එයාගේ ඇඟත් එක්ක වාසය කරනවා. ඊළඟට ඒ දෝෂය ඇතිවුනාට පස්සෙ ගොඩක් අයට දරුවෝ ගබ්සා වෙනවා. මේ ඔක්කොම වැරදි කාම සේවනයේ විපාකනෙ. පවුල්වල

අර්බුද ඇතිවෙනවා. ස්වාමියාට බිරිඳට ප්‍රිය ඇසින් බලමින් වාසය කරන්න බෑ. වැරදි කාම සේවනයේ විපාක. ඊටපස්සෙ සීසීකඩ පවුල් කැඩිලා යනවා. තනිවෙනවා, ආදරයක් නැතිවෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ මේවා බුදු ඇසින් දකින නිසා කරුණාවෙන්නේ වදාලේ, වැරදි කාම සේවනය කරන්න එපා කියලා. බොරු කීමේ විපාක විදියට නිරයේ යනවා, තිරිසන් ලෝකෙ යනවා, ප්‍රේත ලෝකෙ යනවා. මනුස්ස ලෝකෙට ආවට පස්සෙ අවම විපාකය තමයි, බොරුකීමේ අවම විපාකය තමයි අභූත චෝදනා වලට අහුවෙනවා, නොකරපු වැරදි වලට අහුවෙනවා. ඊටපස්සෙ දරුවන් නැතිවෙනවා. ඉපදුනත් ඉපදෙන්නෙ දූවලා. ඊටපස්සෙ එයාලා හිටියත් අවසානෙ අම්මයි තාත්තයි තනිවෙනවා, දරුවෝ එක එක තැන්වලට යනවා. ඊටපස්සෙ කටගඳ ගහනවා. වචනයක් හරියට පිට කරගන්න බැරිව යනවා. මේ වාගේ බොරු තමයි, ඊළඟට එක තමයි පරම්පරාවෙන් ලැබෙන ඉඩම් නොලැබී යනවා. මේ ඔහු කියන දේ අනිත් අය පිළිගන් නෑ, මේ ඔක්කොම බොරුවේ විපාකනෙ. එතකොට බුදුරජාණන් වහන්සේ කොච්චර අනුකම්පාවෙන්ද වදාළේ බොරුවක් කියන්න එපා කියලා. දැන් පින්වතුනි බුදුරජාණන් වහන්සේ නිදහස්නෙ මේකෙන්. බුදුරජාණන් වහන්සේට කිසිම අපහසුතාවක්, උවමනාවක් නෑ මේ අයට මේක ඔළුවට දාන්න ඕන කියලා. කරුණාවෙන් දේශනා කලේ. ඒක ඔබ පිළිගත්තත් එකයි. නැතත් එකයි. පිළිගත්තොත් ඔබ ඔය දුකින් නිදහස් වෙනවා. ඔබ ඒක තකන්නැත්නම් ඒ කර්මය ඔබට දායාද වෙනවා. ඉතින් අපි කොච්චර භාග්‍යවතුන් වහන්සේගේ කරුණාව ගැන හිතන්න ඕන ද. ඊටපස්සෙ පින්වතුනි මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කිරීමේ විපාක තමයි නිරයේ, තිරිසන් ලෝකෙ, ප්‍රේත ලෝකෙ දුක් විඳලා ඇවිල්ලා මනුස්ස ලෝකෙක ඉපදුනොත් අවම විපාකය තමයි සිහි කල්පනාව නෑ, මන්ද බුද්ධිකයි. ඒ වගේම උමතු වෙනවා, දරාගන්න බැරිව යනවා. පොඩි ප්‍රශ්නෙදිත් සියදිවි හානිකරගන්නවා. පුංචි වචනෙට හිත රිදෙනවා. හිනා වුන් නැතත් හිත රිදෙනවා. යන යන තැන තනිය වගේ දැනෙනවා. මතක හිටින් නැතිව යනවා. ගොඩාක් මානසික ප්‍රශ්න එනවා. දැන් බලන්න බටහිර රටවල් වල මානසික ප්‍රශ්න, ඒවට ලස්සන වචන දාගෙන ස්ට්‍රෙස් කියයි, ඊළඟට එක එක වචන කියනවා, ටෙන්ෂන් කියයි, එක එක වචන දාගෙන තියෙනවා. දාගෙන තිබ්බට මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කිරීමේ විපාක ඔවුන් විඳිනවා. එතකොට මේ වගේ වුනාට පස්සේ හිතන්නකො දරාගන්න බැරිවුනාම ඔය වගේ ප්‍රශ්න ඇතිවෙනකොට කොච්චර දුකක්ද ඒ සත්ත්වයාට කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ කොච්චර අනුකම්පාවෙන් ද වදාළේ

මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කරන්න එපා කියලා. වතුර බොන්න එපා කිව්වෙ නෑ, තේ බොන්න එපා කිව්වෙ නෑ, කිරි බොන්න එපා කිව්වෙ නෑ, සුප් බොන්න එපා කිව්වෙ නෑ, බීම වර්ග බොන්න එපා කිව්වෙ නෑ, මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කරන්න එපා කියලා වදාළා. හේතුවක් ඇතිවනේ. බුදුරජාණන් වහන්සේ මහා කරුණාවෙන්නෙ. බුදුරජාණන් වහන්සේට ඔක්කෝම ජේනවනේ ඕවගේ විපාක. ඒ නිසා තේරුම් ගන්න පින්වතුනි පන්සිල් කියන්නෙ, පඤ්චසීලය කියන්නෙ මහා කරුණාවෙන් වදාරපු දෙයක්. බුදුරජාණන් වහන්සේ සරණ කිව්වනෙ. බුද්ධං සරණං ගච්ඡාමි, ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි. ඒ සරණ භාග්‍යවතුන් වහන්සේ අනුකම්පාවෙන් දුන්නෙ. දසබල ඥාණ තුළ පිහිටලා, සිව් විශාරද ඥාණ තුළ පිහිටලා, ඊළඟට ෂඩ් අසාධාරණ ඥාණ තුළ පිහිටලා බුදුරජාණන් වහන්සේ අනුකම්පාවෙන් කරුණාවෙන් සරණ දුන්නෙ. සරණ කියන එක හැම තැනම මේ සරණ කියන වචනයේ සිංහල අර්ථය විස්තර කරන්නෙ බිය නැති තැන කියන එක. එතකොට ඔබට සරණ තියෙනවා නම් ඔබට මරණය ඉදිරියේදි වුනත් හිතෙන්න ඕන මම බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනෙක්. මම නරක තැනක යන් නෑ, මම බුදු ගුණ අහන කෙනෙක්. මං බුදුගුණ හිතන කෙනෙක්. මට දුර්ලභ ලාභයක් ලැබිච්ච කෙනෙක්. මට භය වෙන්න කාරි නෑ. ඒක නිතර හිතට එන්න ඕන. අන්න සරණට ඇවිල්ලා. තිසරණයටම එන්න ඕන. තිසරණය කියන එක, බුදුරජාණන් වහන්සේ මහා කරුණාවෙන් දේශනා කලේ. බුදුරජාණන් වහන්සේ සියලු ලෝක දකිනවා, සියලු විපාක දකිනවා, කර්ම දකිනවා. දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකෙ සියලු දෙනාට පිහිට පිළිසරණ තියෙන්නෙ තිසරණයේ. ඔවුන්ට හික්මීම පිණිස තියෙන්නෙ පඤ්චසීලය. ඒ නිසා මේ තිසරණයයි, පඤ්චසීලයයි කියන එක සුලුවෙන් තකන්න එපා. බුදු කෙනෙක් මහා කරුණාවෙන් දේශනා කලේ. ඒ නිසා තෙරුවන් සරණ ගිය, පන්සිල් රකින ශ්‍රාවකයෙක් කියන්නෙ මහා අභිමානයක්. සක්දෙවිඳු පවා වෛජයන්ති ප්‍රාසාදයෙන් බැහැලා ගමනක් යන්න කලින් දණ ගහලා වඳිනවානෙ. තිසරණ සහිත පන්සිල් රකින කෙනාට දෙවියෝ වඳිනවානෙ. එයාලටනෙ දෙවිවරු දාස වෙලා උපකාර කරන්නෙ. අද මේ පූජා වට්ටි උස්සගෙන දෙවියන් ළඟට මේ ගාට ගාට යන්න වෙලා තියෙන්නේ තමා තුළ සරණ නෑ, පඤ්චසීලය නෑ. තිබ්බා නම් දෙවියන් තමන් ළඟ. ඊළඟට මේ ධර්මය පිළිබඳව ගොඩාක් මිනිස්සු එක එක දෘෂ්ටි වල පැටලිලා ඉන්නෙ. අර්බුද හදාගන්නෙ, මේ ඔක්කොම සරණයි, පඤ්චසීලයයි නැති නිසා. ඒ නිසා තිසරණ සරණ පඤ්චසීලය බුදුරජාණන් වහන්සේ මහා කරුණාවෙන් වදාළේ. ඒ නිසා

බුදුරජාණන් වහන්සේ සංසාරෙන් නිදහස් වුනා, සසරේ යන සත්ත්වයෝ දැකලා මහා කරුණාව ඇතිවුනා. ඒකයි මේ ධර්මය දේශනා කලේ. රාගයෙන් පීඩා විඳින, ද්වේෂයෙන් පීඩා විඳින, මෝහයෙන් පීඩා විඳින, ඊර්ෂ්‍යාවෙන්, ක්‍රෝධයෙන්, වෛරයෙන්, එකට එක කිරීමෙන්, ගුණමකු කමින්, පීඩාවෙන්, සන්තාපයෙන් ලෝකෙ මිනිස්සු ඉඳිද්දි ඒ සියල්ලෙන් නිදහස් වුනු බුදුරජාණන් වහන්සේට ඔවුන් දෙස බලනකොට මහා කරුණාව ඉපදුනා. ඒක තමයි මහා කරුණා සමාපත්ති ඥාණය කියලා කියන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ අද අපි දිහා බැලුවොත් මහා කරුණාව උපදිනවා. අපිට තියෙන්නෙ උන්වහන්සේ මහා කරුණාවෙන් දේශනා කරපු ධර්මය පිළිපදින්න. ඒ නිසා මහා කරුණා සමාපත්ති ඥාණයේ අනන්ත අනුහසින්, බුදුරජාණන් වහන්සේට අපි ගැන කරුණාව, මහා කරුණාව ඇති වූ බව සත්‍යයයි, ඒ සත්‍යානුභාව බලයෙන් අපිට මේ ගුණධර්ම දියුණු කරගෙන ගෞතම සසුනේ පිහිට ලබාගන්න වාසනාව ලැබේවා.

ඉතින් පින්වතුනි, අද දවසේ අපි කතා කලේ මහා කරුණා සමාපත්ති ඥාණය ගැන. බුදුරජාණන් වහන්සේ නමකගේ තිබෙන, උන්වහන්සේ ලෝකය දිහා බලනකොට උන්වහන්සේට මහා කරුණාව ඇතිවෙනවා. ඒ කරුණාව තුලින් තමයි භාග්‍යවතුන් වහන්සේ ලෝක සත්ත්වයාට හිතසුව පිණිස මේ සියලූම ඒ භාග්‍යවතුන් වහන්සේගේ පිළිසරණ ලබලා දුන්නෙ. ඉතින් ඒ නිසා අද අපි කතා කලා ෂඩ් අසාධාරණ ඥාණ හයම අද වෙනකොට කතා කරලා අවසන්. ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥාණය, ආසයානුසය ඥාණය, යමක මහා ප්‍රාතිහාර්ය ඥාණය, මහා කරුණා සමාපත්ති ඥාණය, සබ්බඤ්ඤුත ඥාණය, අනාවරණ ඥාණය. බුදුරජාණන් වහන්සේට පමණක් තියෙන ඒ ඥාණ හය ගැන කතා කලා. අපිට ශක්ති පමණින් දවස් ගණන්, වරු ගණන් කතා කරන බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු ගුණ ඥාණ මේවා. ඉතින් මේ ෂඩ් අසාධාරණ ඥාණ වල ආනුභාව බලයෙන්, මේ පින්වතුනි රැස් කරගත්තු ධර්ම දානයේ ආනුභාව බලයෙන්, මේ ලෝක සත්ත්වයාටත් අපගේ මව් රටටත් පැමිණ තියෙන මේ ව්‍යසනය, රටට ලෝකයට මේ වසංගතය දුරින්ම දුරු වෙලා, රෝගී වූ අය නිරෝගී වේවා. බිය තැති ගැනීම් දුරු වෙලා මනුස්සයාට සැනසිල්ලේ නිදුක් නිරෝගීව ඉන්න උතුම් තුණුරුවන්ගේ ආනුභාවය, ෂඩ් අසාධාරණ ඥාණ වල ආනුභාවය ඒකාන්තයෙන් සැලසී සෙත් වේවා කියලා පළමුවෙන්ම සෙත් පතනවා. බෙල්ජියමේ පදිංචි පින්වත් නන්දනී චන්ද්‍රසේකර මහත්මයා, ජේමා ඒකනායක මහත්මිය සහ සයිප්‍රස් පදිංචි පින්වත් රූපා බස්නායක මහත්මිය

ඇතුලු පිරිස විසින් අද මේ ධර්ම දානය ලබලා දුන්නෙ. ඉතින් ඔබ බොහෝ පිනක් රැස් කරගත්තා භාග්‍යවතුන් වහන්සේගේ මහා කරුණා සමාපත්තිය ගැන වචනයක් හෝ ලෝකයට අහන්න සැලැස්වීම අපරිමිත පුණ්‍ය සම්භාරයක්. ඉතින් ඒ සියලු පින් සියලු දෙවිවරු අනුමෝදන් වෙලා කොයිතරම් දුරු රටක සිටියත් ඔබව ආරක්ෂා කරත්වා. සියලු දෙනා දෙවිවරු ආරක්ෂා කරත්වා කියලා පින් දෙමින් සිහි කරනවා. 2019 මාර්තු මස 27 වන දින මියපරලොව ගිය මානෙල් මෑණියන්ට මේ පින් අනුමෝදන් වෙත්වා, අනුමෝදන් වෙත්වා. සමරවීර පියාණන්ට පින් අනුමෝදන් වේවා. ඇලිස් දිසානායක මෑණියන්ට පින් අනුමෝදන් වේවා. මාටින් බස්නායක පියාණන්ට පින් අනුමෝදන් වේවා. ඒ වගේම මාටින්නෝනා මෑණියන්ට පින් අනුමෝදන් වේවා. මියපරලොව ගිය සියලූම ඥාතීන්ට මේ පින් අනුමෝදන් වේවා, පරලොව සැපය වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පරමපූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලුම ස්වාමීන් වහන්සේලාටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් ධර්මාවබෝධයම සැලසේවා කියලා අපි පින් පමුණුවමු. ඒ වගේම සුජීවත්ව සිටින මේ පින්වතුන්ගේ පේමදාස අයියා, රමණී අක්කා, සනත් මල්ලී, අජිත් අයියා ඒ වගේම පෙරේරා මහත්මයා, ඒ වගේම අබෝසිංඤෝ පියාණන් ඇතුළු පවුලේ සියලූම දෙනාට මේ පින් බලයෙන් ආශිර්වාදයෙන් නිදුක් නිරෝගී සුව සැලසේවා. ඕනුජ පුතාට ඒ වගේම තෙනුල් පුතාට, ඒ වගේම මිනුදි දියණියට, ඒ දරුවන්ට මේ පින් අනුමෝදන් වී භාග්‍යවතුන් වහන්සේගේ අනන්ත බුදුගුණානුභාවයෙන්, ෂඩ් අසාධාරණ ඥාණයේ ආනුභාවයෙන්, මහා කරුණාවෙන් බුදුරජාණන් වහන්සේ පිහිටුවා වදාළ ගෞතම බුදු සසුනේ පිහිට ලබන්න මේ දරුවන්ට වාසනාව ලැබේවා. බෙල්ජියමේ පදිංචි පින්වත් නන්දනී චන්ද්‍රසේකර මහත්මියටත්, පේමා ඒකනායක මහත්මියටත්, සයිප්‍රස් හි පදිංචි පින්වත් රූපා බස්නායක මහත්මියටත් මේ පින් අනුමෝදන් වෙත්වා. ඔබ සියලු දෙනාට නිදුක් නිරෝගී සුවපත් භාවය, තුණුරුවන්ගේ ආශිර්වාදය, අද ධර්ම දානයේ පිනෙන් සියලු රැකවරණයම සැලසේවා. ගෞතම බුද්ධ ශාසනයේ උතුම් සරණ තුළින් පිහිට පිළිසරණ ලබාගන්න ලැබේවා. සසර දුකින් නිදහස් වෙන්න මේ රැස් කල පිනත් හේතු වාසනා වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන් සියලු දෙනාට පින්

අනුමෝදන් වෙත්වා. ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයට, ඒ වගේම දායකත්ව සපයන සියලු දෙනාට පින්සිදු වේවා. ඒ වගේම සියලූම දෙනාට භාග්‍යවතුන් වහන්සේගේ අනන්ත සම්බුදු ගුණ බලයෙන්, ෂඩ් අසාධාරණ ඥාණයේ ආනුභාව බලයෙන් ඔබ සියලු දෙනාට සෙත් වේවා, නිදුක් නිරෝගී සුව වේවා. සසර දුකින් අත්මිදෙන්න උතුම් සම්බුදු සරණ ලබන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් මේ වෙනකොට ඔබ බුදුරජාණන් වහන්සේ ගැන ඔබගේ සිතේ පැහැදීම ඇතිවන කරුණු බොහොමයක් ඉගෙන ගන්නට යෙදුනා. නමුත් පින්වතුනි අපි මේ කියන බුදුගුණ බුදුරජාණන් වහන්සේගේ තිබෙන්නා වූ බුදුගුණ මහමෙරක් වගේ. අපිට වචනයෙන් කියාගන්න පුලුවන් බුදුගුණ වැලිකැටයක් තරම් කිව්වොත් ඒත් ඒ උපමාව ප්‍රමාණවත් මදි. බුදුරජාණන් වහන්සේ නමක්ම කල්පයක් තවත් බුදු කෙනෙක්ගේ ගුණ කිව්වත් කල්පය ගෙවී යනවා බුදුගුණ අවසන් වෙන් නෑ කියලයි කියන්නෙ. ඉතින් ඒ නිසා මේ කරුණු කාරණා ඔක්කෝම කියලා දෙන්නෙ හොඳ පිළිසරණක් ඇති කරගන්න. මේ සතර අපායට වැටුනොත් එහෙම ආයෙ ගොඩ එනවා කියන එක ලේසි දෙයක් නෙවෙයි. කණ කැස්බෑවා විය සිදුරෙන් අහස බලනවා වගේ දුර්ලභයි මනුස්ස උප්පත්තිය. ඉතින් කෙසේ නමුත් අදත් අපි විශේෂ කාරණාවක් අපි කතා කරන්නෙ. මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ පදිංචි වෛද්‍ය කුමෝෂා අබේවීර මහත්මිය විසින්. ඉතින්

මෙතුමිය බලාපොරොත්තු වෙනවා ජූනි මස නව වෙනි දිනට හැට අට වෙනි උපන්දිනය යෙදුනු චන්ද්‍රිකා පුංචිහේවා මහත්මියට නිදුක් නිරෝගී සුවපත්භාවය ප්‍රාර්ථනා කරන්න. ඒ වගේම සියලූම ලෝක සත්ත්වයාට සෙත් ප්‍රාර්ථනා කරන්නට බලාපොරොත්තු වෙනවා. ඉතින් පින්වත්නි, අද අපි ඉගෙන ගන්නේ බුදුරජාණන් වහන්සේගේ විශේෂ ඥාණයක්. අද අපි ඉගෙන ගන්න ඥාණය තමයි මහා කම්ම විභංග ඥාණය. දැන් මේ ඥාණය පිළිබඳව අපි මෙතෙක් කතා කලේ නෑ. මේක දස බල ඥාණ තුළින් බුදුරජාණන් වහන්සේ කර්ම විපාක දැකීමේ ඥාණයට අයිතියි, දස බල ඥාණ තුළ තියෙනවා. විශාරද ඥාණ වලින් බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුදු ගුණය පිළිබඳව විශාරද ඥාණයට අයිති, නව අරහාදී ගුණ වලින් විජ්ජාචරණ සම්පන්න ගුණයට අයිතියි. දසබල ඥාණ වල කර්ම විපාක ඥාණයටත්, සබ්බත්ථ ගාමිණී පටිපදාවටත් ඒ සියල්ලටම අයිතියි දැන්. හැම ගුණයක්ම අයිති වෙනවා. ඉතින් නමුත් මේක විශේෂයෙන් තේරුම් ගන්න මහා කම්ම විභංග ඥාණය. එතකොට අපි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයො විදියට අපේ ශාස්තෲන් වහන්සේගේ හැකියාව අපි දැනගෙන තියෙන්න ඕන. ඒ වගේම ශාස්තෲන් වහන්සේ හැකියාවෙන් වදාළ ඒ ධර්ම පරියායන් තේරුම් ගෙන තියෙන්න ඕන. ඊටපස්සෙ අපිට ගැලවෙන්න තියෙන ප්‍රතිපදාව පුරුදු කරන්න ඕන. මේ බලන්න තෙරුවන් සරණ ගියෙ නැත්නම් මේ සංසාරයේ යන සත්ත්වයාට තියෙන භයානකකම අද මේ කියලා දෙන්නෙ. මේ දේශනාව මජ්ඣිම නිකායේ තියෙන්නෙ, මහා කම්ම විභංග සූත්‍රය. බුදුරජාණන් වහන්සේ මේ දවස්වල වැඩ සිටියේ වේළුවනාරාමයේ, ලේනුන්ගේ අභයභූමියේ. සමිද්දි තෙරුන් වනගත කුටියක වාසය කලා. ඒ කාලයේ. පෝතලීපුත්‍ර පරිබ්‍රාජකයෙක් පෝතලීපුත්‍ර කියලා තාපසයෙක් ගංඟා විහාරං අවිචංකමානෝ, මේ ව්‍යායාම පිණිස එහෙමෙහෙ යද්දි, ආයුෂ්මත් සමිද්දි තෙරුන් වහන්සේ වැඩ ඉන්න වනගත කුටිය ළඟට මොහු සක්මනේ ආවා. කතාබහ කරලා පෝතලීපුත්‍ර තාපසයා සමිද්දි තෙරුන්ට මෙහෙම කියා සිටියා. ආයුෂ්මත් සමිද්දි, මං ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේගෙන්මයි මං මේක ඇහුවෙ. උන්වහන්සේ ළඟමයි මං මේක පිළිගත්තෙ. ඒ තමයි උන්වහන්සේ මට කිව්වා, කයින් ක්‍රියාවක් කරනවා නම් ඒකෙ කිසිම වැඩක් නෑ, වචනයෙන් කරන කර්ම වල කිසී වැඩක් නෑ, මනසින් කෙරෙන කර්ම වල විතරයි සත්‍යතාවයක් තියෙන්නෙ. ප්‍රයෝජනයක් තියෙන්නෙ කියලා මට කිව්වා. ඊටපස්සෙ යම් සමාපත්තියකට සමවැදුනට පස්සෙ කිසිම විඳීමක් ලැබෙන් නැත්නම් එවැනි වූ සමාපත්තියකුත් තියෙනවා

කියලා මට කිව්වා. සමිද්දි තෙරුන් කිව්වා, ආයුෂ්මත් පෝතලීපුත්‍ර, ඔහොම කියන්න එපා, භාගයවතුන් වහන්සේ කයින් කරන ක්‍රියාව හිස් දෙයක් කියලා දේශනා කරලා නෑ. වචනයෙන් කරන ක්‍රියාව හිස් දෙයක් කියලා දේශනා කරලා නෑ. මනසින් කරන දේමයි ප්‍රයෝජන තියෙන්නෙ, ඒකමයි සත්‍යය කියලා දේශනා කරලා නෑ. භාගයවතුන් වහන්සේට අභූතයෙන් චෝදනා කරන්න එපා කිව්වා. යම් සමාපත්තියකට සමවැදුනට පස්සෙ විඳීමක් ඇතිවෙන් නැත්නම් එවැනි සමාපත්තියක් තියෙනවා කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කරන් නෑ. ඒ නිසා බුදුරජාණන් වහන්සේට අභූතයෙන් චෝදනා කරන්න එපා ඔබ. ඊටපස්සෙ පෝතලීපුත්‍ර තාපසයා ඇහුවා, ඈ සමිද්දි, ආයුෂ්මත් සමිද්දි, මහණ වෙලා කොච්චර කාලයක්ද දැන් ඔබ වහන්සේ? කිව්වා මං දැන් අවුරුදු තුනක් විතර වෙනවා. කෝ බලන්න ඔබ වහන්සේ ඊයෙ පෙරේදා මහණ වෙච්චි කෙනෙක්නේ. ඊයෙ පෙරේදා මහණ වෙච්චි උන්නාන්සේලා ශාස්තෘන් වහන්සේ මෙහෙම රකින්න හදනවා නම් මහා තෙරුන් වහන්සේලා ගැන කතා කරන්න දෙයක් නෑ. ආයුෂ්මත් සමිද්දි එහෙනම් පුලුවන් නම් කියන්න බලන්න චේතනාවක් පහළ කරලා, කයින් වචනයෙන් මනසින් කර්මයක් කලාට පස්සේ ඔහු විඳින්නේ කවර, කුමන විඳීමක් ද? චේතනාවක් පහළ කරලා කයින් වචනයෙන් සිතින් කර්මයක් කලොත් එයා විඳින වේදනාව මොකක්ද? සමිද්දි තෙරුන් කිව්වා, ආයුෂ්මත් පෝතලීපුත්‍ර, චේතනාවක් පහළ කරලා කයින් වචනයෙන් මනසින් කර්මයක් කලාට පස්සේ ඔහු විඳින්නෙ දුක. චේතනාව පහළ කරලා කරන හැම කර්මයකින්ම දුක විඳිනවා කියලා දැන් සමිද්දි තෙරුන් කිව්වෙ. එතකොට පෝතලීපුත්‍ර තාපසයන් ඒකට කැමති වුන් නෑ. ඒකට විරුද්ධව කතා කලෙත් නෑ. නැගිටලා ගියා. ආයුෂ්මත් සමිද්දි තෙරුන් ඒ එක්කම වේළුවනයේ ආනන්ද ස්වාමීන් වහන්සේ වැඩ ඉන්නවා, ආනන්ද ස්වාමීන් වහන්සේ ළඟට ඇවිල්ලා සිද්ධිය කිව්වා මේ පෝතලීපුත්‍ර මෙහෙම කතාවක් කිව්වා. ආනන්ද තෙරුන් බලන්න මේ අපගේ ආනන්ද ස්වාමීන් වහන්සේ කොච්චර ශාස්තෘන් වහන්සේගේ ධර්මයට ගරු කරනවා ද, බුදුරජාණන් වහන්සේගෙන් ධර්මයක් ඇහෙනවාට කොච්චර මනාපයිද කියලා, කියනවා ආයුෂ්මත් සමිද්දි, ඕක හොඳ කතා පඬුරක් අපිට භාගයවත් බුදුරජාණන් වහන්සේගෙන් ධර්මයක් අහන්න. අපි දෙන්නම යං. බුදුරජාණන් වහන්සේට වන්දනා කරලා බුදුරජාණන් වහන්සේට කියාහිටියා. අද මෙන්න මෙහෙම කතාවක් ඇතිවුනා කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා ආනන්ද, මං ඔය පෝතලීපුත්‍ර පරිබ්‍රාජකයා ඔය තාපසයා දැක්කෙත් නෑ. කතාබහ කලා කියන

එක ගැන කවර කතා ද කියලා ඇහුවා. එතකොට ඒ කාලෙත් බුදුරජාණන් වහන්සේ ගැන කිව්වනෙ, මං මේ බුදුරජාණන් වහන්සේගෙන් අහලා මටමයි කිව්වෙ, මෙහෙමයි කිව්වෙ කියලා. ඉතින් අද කාලෙ ගැන කවර කතා ද. මේවා ඉගෙන ගෙන ඉන්න එකේ වාසිය ඒකයි. අපිත් කෙනෙක් දැකලත් නෑ, අපි කියලත් නෑ, අපි එහෙම එකක් කිව්වෙත් නෑ, කිව්වා කියලා යනවා. එතකොට ඒ වාගේ වෙලාවට හිත හදාගන්න ඕන බුදුරජාණන් වහන්සේගේ කාලෙ බුදුරජාණන් වහන්සේ ගැනත් එහෙම කිව්වා කට්ටිය. මේ බුදුරජාණන් වහන්සේ මෙහෙම කිව්වා, මටමයි කිව්වෙ. මේ බුදුරජාණන් වහන්සේ දැකලත් නෑ ඒ අය. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා, ඒ වුනාට ආනන්ද මේ පෝතලීපුත්‍ර පරිබ්‍රාජකයා අහපු ප්‍රශ්නෙට විස්තර කරලා උත්තරයක් දෙන්න තියෙද්දින් මේ සමිද්දි කියන හිස් පුරුෂයා මොකක්ද මේ දීලා තියෙන උත්තර? එහෙම කියනකොට, දැන් අපිවත් හිතුවෙ නැනෙ භාග්‍යවතුන් වහන්සේගෙන් එහෙම අහන්න වෙයි කියලා. එතකොට එතන උදායී කියලා හාමුදුරු නමක් හිටියා. මේ උදායී හාමුදුරුවො ගත් කටටම කිව්වා ස්වාමීනී, මේ ආයුෂ්මත් සමිද්දි ඕක කියන්න ඇත්තෙ ඕනම විදීමක් විඳිනවා නම් ඒක දුකයිනෙ. දුක තුළ බැසගෙනනෙ තියෙන්නෙ. ඒ නිසා වෙන්න ඇති එහෙම කියන්නෙ. එතකොට බලන්න මේ උදායී හාමුදුරුවන්ගේ තියෙන මොළේ නැති කම. ශාස්තෘන් වහන්සේට කියන්න ඕනද සමිද්දි තෙරුන් උත්තරයක් දුන්නේ මේ අදහසින් කියලා. එතකොට ඒ කාලයේ මේ උදායී තෙරුන්ටත් භාග්‍යවතුන් වහන්සේගේ දසබල ඥාණ, විශාරද ඥාණ, ෂඩ් අසාධාරණ ඥාණ, මේවා ගැන උදායී උන්නාන්සේටත් නෑ කිසිම දැනුමක්. දැන් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ආනන්ද, මේ උදායී කියන හිස් පුරුෂයා ඔළුව එහෙම කරකවලා ඔළුව පොඩ්ඩක් උස්සලා කට අරිනකොටම මට හිතුනා මොකාක්හරි මෝඩ කතාවක් දැන් කියනවා කියලා. නුනුවණින්, කිසිම අර්ථයක් නැති වචන මේ උදායී කිව්වා, උදායී නැමැති හිස් පුරුෂයා. ආනන්ද, මේ සමිද්දි හිස් පුරුෂයා, උත්තරේ දුන්නා නම්, ඔක්කොම මේ වචන භාග්‍යවතුන් වහන්සේ පාවිච්චි කරනවා ඇත්තේ පින්වතුනි යම්කිසි දමනයක් උදෙසා වෙන්න පුලුවන්. අපිට ඒක තේරෙන් නෑ. බුදුරජාණන් වහන්සේ යම් වචනයක් පාවිච්චි කරනවා නම් හේතු සහිතවමයි පාවිච්චි කරන්නෙ. ඒ බුදුරජාණන් වහන්සේගේ වචනය අභයරාජකුමාර සූත්‍රයට අනුව සත්‍ය දෙයක්. සිදුවූ දෙයක්. අර්ථවත් දෙයක්. අන් අය ප්‍රිය වුනත් අප්‍රිය වුනත් සුදුසු කාලයේ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා. ඔච්චරයි භාග්‍යවතුන් වහන්සේගේ වචන සීමාව. ඊටපස්සෙ

බුදුරජාණන් වහන්සේ ආනන්ද ස්වාමීන් වහන්සේට කියාසිටිනවා ආනන්ද, ඒක විග්‍රහ කරන්න තිබ්බා. කොහොමද විග්‍රහ කරන්නෙ, චේතනාවක් පහළ කොට කයින් වචනයෙන් මනසින් සැප විඳීම ඇතිවන කර්මයක් කලාට පස්සෙ ඔහු විඳින්නේ සැප. චේතනාවක් පහළ කරලා සිතින් කයෙන් වචනයෙන් මනසින් දුක් සහගත කර්මයක් කලොත් ඔහු විඳින්නෙ දුක් විඳීමක්. සිත කය වචනය මනස මුල් වෙලා දුක් සැප රහිත විඳීමක් කර්මයක් චේතනාව මුල් කරගෙන කලොත් ඔහු විඳින්නේ දුක් සැප රහිත විඳීමක්. ඒ කියන්නේ කරන කර්මය, සිතින් කයින් වචනයෙන් කරන කර්මයේ උපද්දවලා දෙනවා නම් දුක, සැප හෝ දුක සැප රහිත ස්වභාවයක් ඊට අනුව තමයි දුක හෝ සැප හෝ දුක සැප රහිත බව විඳීම එන්නෙ. ඉතින් ඔය උත්තරේ දුන්න නම් හරි උත්තරේ බවට පත්වෙනවා. පින්වත් ආනන්ද ඒ අව්‍යක්ත වූ මේ අන්‍යාගමික තාපසවරු කවුද කර්මය ගැන තේරුම් ගන්න. ආනන්ද, තථාගතයන් වහන්සේගේ මහා කම්ම විභංග ඥාණය ආනන්ද දන්නවද? ආනන්ද, තථාගතයන් වහන්සේගේ මහා කම්ම විභංග ඥාණය අහන්න කැමැති ද කියලා ඇහුවා. එතකොට ඒ වෙනකල් පින්වත් ආනන්ද ස්වාමීන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේගේ කම්ම විභංග ඥාණය ගැන අහලා තිබ්බෙ නෑ. ඊටපස්සෙ ආනන්ද ස්වාමීන් වහන්සේ ඒතස්ස භගවා කාලෝ, ඒතස්ස සුගත කාලෝ. සුගතයන් වහන්ස මේ එයට කාලයයි, භාග්‍යවතුන් වහන්ස මේ එයට කාලයයි. භාග්‍යවතුන් වහන්සේ මහා කම්ම විභංග ඥාණය පිළිබඳව දේශනා කරනවා නම් අපි ඒක දරාගන්නවා කියලා. එහෙනම් ආනන්ද අහන්න මං තේරුම් කරලා දෙන්නම්. ආනන්ද, මේ ලෝකයේ පුද්ගලයෝ හතර දෙනෙක් ඉන්නවා. මේ තමයි පින්වත්නි, භාග්‍යවතුන් වහන්සේගේ මහා කම්ම විභංග ඥාණය. දැන් මේ ටික හොඳට තේරුම් ගන්න. ඇත්තටම මේක මහා භයානක සංසිද්ධියක් මේ විස්තර කරන්නෙ, භාග්‍යවතුන් වහන්සේගේ ඥාණයෙන්. පින්වත් ආනන්ද, මේ ලෝකෙ පුද්ගලයෝ හතර දෙනෙක් ඉන්නවා. කව්ද? මේ ලෝකෙ එක්කෙනෙක් ඉන්නවා සතුන් මරනවා. හොරකම් කරනවා, වැරදි කාම සේවනය කරනවා, බොරු කියනවා, කේලම් කියනවා, පරුෂ වචන කියනවා, හිස් වචන කියනවා, දැඩි ලෝභයෙන් ඉන්නවා, තරහෙන් ඉන්නවා, මිත්‍යා දෘෂ්ටිකව ඉන්නවා. ඒ කියන්නෙ දස අකුසල් කරනවා. ආනන්ද මෙයා මැරිලා ගිහිල්ලා උපදිනවා අපාය නම් වූ දුගතිය නම් වූ විනිපාත නිරයේ උපදිනවා මැරිලා ගිහිල්ලා. ඔය එක්කෙනෙක්. ආනන්ද තව එක්කෙනෙක් ඉන්නවා, එයත් දස අකුසල් කරනවා. සත්තු මරනවා, හොරකම් කරනවා, වචනයෙන් පව් කරනවා, මනසින් පව්

කරනවා. දස අකුසල්. හැබැයි ආනන්ද මෙයා මැරිලා ගිහිල්ලා සුගතියේ උපදිනවා, දෙව්ලොව. කලේ දස අකුසල්. දෙව්ලොව උපදිනවා මැරිලා ගිහිල්ලා. ආනන්ද මෙතන තව එක්කෙනෙක් ඉන්නවා, තුන්වෙනි එක්කෙනා, ඒ තමයි ආනන්ද එයා කයින් හොඳ කරනවා, සත්තු මරන් නෑ, හොරකම් කරන් නෑ, වැරදි කාම සේවනය කරන්නෑ, බොරු කියන් නෑ, කේලම් කියන් නෑ, පරුෂ වචන කියන් නෑ, හිස් වචන කියන් නෑ. අනුන්ගේ දේවල් වලට ලෝභ කරන් නෑ, තරහ වෛරයෙන් ඉන්නෙ නෑ, මිත්‍යා දෘෂ්ටිකව ඉන්නෙ නෑ. මෙයා මැරිලා ගිහිල්ලා දෙව්ලොව උපදිනවා. ආනන්ද හතරවෙනි පුද්ගලයා මෙයත් සත්තු මරන් නෑ, හොරකම් කරන් නෑ, හොඳට කුසලයේ ඉන්නවා, දස කුසල් වල. ඒ වුනාට ආනන්ද මෙයා මැරුනට පස්සෙ ගිහිල්ලා නිරයේ උපදිනවා. ඔන්න හතරවෙනි එක්කෙනා. ඔන්න දැන් මතක තියාගන්න. මේ ලෝකෙ සත්ත්වයෝ හතර දෙනෙක් ඉන්නවා. පුද්ගලයෝ හතර දෙනෙක්. ඒකෙන් පළවෙනි දෙන්නාම කලේ අකුසල්. දස අකුසල්. හැබැයි එක්කෙනෙක් නිරයේ ගියා, එක්කෙනෙක් දිව්‍ය ලෝකෙ ගියා. දෙවෙනි දෙන්නා කලේ, දෙන්නම හොඳ දේවල් කලේ, කුසල් කලේ. එක්කෙනෙක් දිව්‍ය ලෝකෙ ගියා, එක්කෙනෙක් අපායෙ ගියා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පින්වත් ආනන්ද, ඔන්න මෙහි ලා එක්කෙනෙක් එක ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ හොඳට වීර්යය කරලා කෙලෙස් තවලා වීර්යය කරලා, බලවත් වීර්යයෙන් යුක්ත වෙලා බොහෝ මහන්සි වෙලා භාවනා කරලා, අප්‍රමාදීව භාවනා කරලා, හොඳින් මනසිකාර කරලා යම්බඳු චිත්ත සමාධියක් ඇති කරගන්නවා. ඒ චිත්ත සමාධිය මිනිස් ඇස ඉක්මවා ගිය දිවැසින් බලනවා. ඔන්න එක්කෙනෙක් භාවනා කරනවා, හොඳට දිවැස් උපද්දවාගෙන දිවැසින් බලනවා. එයාට පේනවා පව් කර කර හිටපු කෙනෙක්, දස අකුසල් කර කර හිටපු කෙනෙක් අපායෙ උපදිනවා එයාට පේනවා. එයා ඒක දැක්කා. එයා කියනවා පව් වල විපාක නම් තියෙනවාමයි. පව් කරපු කෙනා නිරයේ යනවාමයි. මම එහෙම එක්කෙනෙක් දැක්කා. ඒ නිසා යම්කිසි කෙනෙක් දස අකුසල් කරනවා නම් මෙයා මැරුණාට පස්සෙ යන්නේ නිරයේමයි. ඇයි මං දැක්කානෙ. කවුරුහරි පව් කරන කෙනා නිරයේ යනවා කියලා කවුරුහරි කිව්වොත් අන්න එයාගේ දැනුම නම් හරි. වෙන දෙයක් කිව්වොත් ඒක වැරදියි, කියලා මෙයා දැක්ක දේ මුල් කරගෙන මේ මම දැනගත්ත දේමයි හරි අනිත් අදහස් වැරදියි කියන අදහසේ ඉන්නවා. ඒ අදහසේ බැසගන්නවා. ඉද මේව සච්චං බෝගමඤ්ඤාති, මේකමයි සත්‍යය, අනිත් ඒවා බොරු හිස් දේවල් කියලා. ඔන්න තව එක්කෙනෙක් හොඳට සමාධිය

වඩනවා. වඩලා එයාට දිවැස එනවා. එයා දිවැසින් දකිනවා පස් පව් දස අකුසල් කරපු කෙනා මේන්න ඉපදිලා දිව්‍ය ලෝකෙ. මෙයා කියනවා පව් වල විපාක නෑ. නැමයි. මොකද මම දැක්කා පව් කරපු කෙනෙක් දිව්‍ය ලෝකෙ ඉපදිලා ඉන්නවා. ඒ නිසා යම්කිසි කෙනෙක් සත්තු මරනවා නම්, හොරකම් කරනවා නම්, වැරදි කාමසේවනය කරනවා නම්, බොරු කියනවා නම්, කේලම්, පරුෂ වචන, හිස් වචන කියනවා නම්, ලෝභ කරනවා නම්, තරහෙන් ඉන්නවා නම්, මිත්‍යා දෘෂ්ටියෙන් ඉන්නවා නම් මෙයාලා මැරුණට පස්සෙ උපදින්නෙ දිව්‍ය ලෝකෙ. කව්රුහරි මේවා කරන අය, අකුසල් කරන අය දිව්‍ය ලෝකෙ ඉපදෙන්නේ කියලා කියනවා නම් ඒ ඥාණය හරි, මම දැක්කා. වෙන දේවල් කිව්වොත් ඒවා බොරු, කියලා මෙයා දැක්ක දේ මුල් කරගෙන, මෙයමයි සත්‍යය අනිත් ඒවා බොරු කියන අදහසේ බැසගෙන ඉන්නවා එයා. ඔය දෙවෙනි කෙනා. තුන්වෙනි කෙනා බුදුරජාණන් වහන්සේ වදාළා, ආනන්ද ඔන්න තුන්වෙනි කෙනා, එයා භාවනා කරනවා. සමාධියෙන්, අමාරුවෙන් උපද්දවගත්තු සමාධියෙන්, එයින් උපද්දගත්ත දිවැසින් බලනවා. බලනකොට මෙයාට පේනවා දස කුසල් කරපු කෙනා උපදිලා ඉන්නවා සුගතියේ. එයා කියනවා කුසලයේ විපාක තියෙනවාමයි. ඒකනම් සත්‍යයක්මයි. මම දැක්කානෙ මේ සත්තු මරන්නැති, හොරකම් කරන්නැති, වැරදි කාමසේවනය කරන්නැති, වචනයෙන් පව් කරන්නැති, ලෝභ කරන්නැති, තරහක් නැති, සම්මාදිට්ඨියෙන් යුතු අය දිව්‍ය ලෝකෙ ඉපදිලා ඉන්නෙ. ඒ නිසා මේ දස කුසල් කරන අය උපදින්නේම සුගතියේමයි. වෙන කෙනෙක් ඕක නෑ කියලා කිව්වොත් එයාගෙ ඥාණය වැරදියි. මම කියන විදියට කිව්වොත් හරි. ඒ නිසා මෙයමයි සත්‍යය අනෙත් ඒවා හිස් කියලා එයා වෙනම ඒ දෘෂ්ටියක බැස ගන්නවා. අදහසක බැසගන්නවා. පින්වත් ආනන්ද, හතරවෙනි කාරණාව, පින්වත් ආනන්ද, ඔන්න කෙනෙක් හොඳට සමාධිය වඩනවා. ඒ සමාධිය වඩලා එයාටත් පේනවා, දිවැස උපදිනවා. එයාට පේනවා මෙන්න දස කුසල් කරපු, කයින් කුසල් කරපු, සත්තු මැරුවෙ නෑ, හොරකම් කලේ නෑ, වැරදි කාමසේවනය කලේ නෑ, බොරු කිව්වෙ නෑ, කේලම් කිව්වෙ නෑ, පරුෂ වචන කිව්වෙ නෑ, හිස් වචන කිව්වෙ නෑ, ලෝභයෙන් හිටියෙ නෑ, තරහෙන් හිටියෙ නෑ, මිත්‍යාදෘෂ්ටියෙන් හිටියෙ නෑ, සම්මා දිට්ඨියෙන් යුක්තවෙලා හිටියෙ. මේන්න මෙයා මැරිලා ගිහිල්ලා නිරයේ උපදිනවා පේනවා දිවැසට. මෙයා කියනවා කුසල් වල විපාක නම් නැමයි. මම දැක්කනෙ. ඒ නිසා යම්කිසි කෙනෙක් සත්තු මරන් නැත්නම්, හොරකම් කරන් නැත්නම්, වැරදි කාමසේවනය කරන් නැත්නම්, බොරු කියන් නැත්නම්, කේලම් කියන්

නැත්නම්, පරුෂ වචන කියන් නැත්නම්, හිස් වචන කියන් නැත්නම්, ලෝභයෙන් තොරව ඉන්නවා නම්, තරහෙන් තොරව ඉන්නවා නම්, සම්මා දිට්ඨියෙන් යුක්තව ඉන්නවා නම් මේ අය මැරුණට පස්සෙ යන්නෙ නිරයේ. මම දැක්කා. කවුරුහරි ඕක නෑ කියලා වෙන අදහසක් කියනවා නම් ඒක වැරදියි, මම කියන එකමයි හරි. අන් අය කියන ඒවා වැරදියි කියලා එයා ඒ අදහසක බැසගෙන ඉන්නවා. ඔන්න ආනන්ද දිවැසින් දැකලා එයාලා ඒ අදහස් වලින් යුක්ත වෙනවා, ඒ අදහස් වල බැසගන්නවා. ආනන්ද, ඔතන අර එක්කෙනෙක් පළවෙනි අදහසක් කිව්වානෙ. ඒ කියන්නෙ අර අකුසල් කරපු කෙනෙක් අපායෙ යනවා දැකලා ප්‍රකාශයක් කලානෙ. එතකොට ආනන්ද එතනදි ඔහු කිව්වානේ පව් වල විපාක තියෙනවාමයි. ආනන්ද මම ඒක අනුමත කරනවා. ආනන්ද එයා කිව්වානේ පව් කරපු කෙනෙක් අපායේ යනවා මම දැක්කා කියලා කිව්වානෙ. ඒකත් මම අනුමත කරනවා. ආනන්ද එයා කිව්වනෙ පව් කරන අය යන්නෙ අපායෙමයි කියලා. ආනන්ද මම ඒක අනුමත කරන් නෑ. පව් කරන අය අපායෙ යනවා කියන එක කවුරුහරි ලෝකයේ පව් කරන අය අපායෙ යනවා කියන අදහස කිව්වොත් හරි වෙන අදහසක් කිව්වොත් වැරදියි කියලා එයා කිව්වනෙ, මම ඒක අනුමත කරන්නෙත් නෑ. මේකමයි හරි වෙන අදහස් වැරදියි කියලා එයාගෙ අදහසක් කිව්වනෙ. ඒකත් මම අනුමත කරන් නෑ. ආනන්ද, අර දෙවෙනි එක්කෙනා ඉන්නවානෙ, ඒ දෙවෙනි එක්කෙනා දැක්කෙ පව් කරපු කෙනා දිව්‍යලෝකෙ ඉපදිලා ඉන්නවා. ආනන්ද එයා අදහසක් කිව්වනෙ. ඒ තමයි පව් වල විපාක නෑමයි. ආනන්ද මම ඒක අනුමත කරන්නෑ. පව් කරපු කෙනෙක් දිව්‍යලෝකෙ යනවා මම දැක්කා කියලා කිව්වනෙ. මම ඒක අනුමත කරනවා. ඊටපස්සෙ එයා කිව්වනෙ යම් කිසි කෙනෙක් සිතෙන්, කයෙන්, වචනයෙන් අකුසල් කරනවා නම්, පව් කරනවා නම් ඒ අය යන්නෙ දිව්‍යලෝකෙ කියලා කිව්වනෙ. ඒක මම අනුමත කරන්නෙ නෑ. මේ අදහසට විරුද්ධව අදහස් තියෙන අයගෙ අදහස් වැරදියි කියලා එයා කිව්වානෙ. ඒකත් මම අනුමත කරන් නෑ. මෙයමයි සත්‍යය අනිත් ඒවා බොරු කියලා එයා කිව්වනෙ. ඒක මම අනුමත කරන්නෙත් නෑ. ආනන්ද, තුන්වෙනි එක්කෙනා, තුන්වෙනි එක්කෙනා දැක්කෙ අර කුසල් කරන කෙනා දිව්‍ය ලෝකෙ යනවා. එතකොට එයා දිවැසින් දැකලා ප්‍රකාශයක් කලානෙ. කුසල් වල විපාක ඇත, කියලා. ආනන්ද, මම ඒක අනුමත කරනවා. කුසල් කරපු කෙනෙක් දිව්‍යලෝකෙ යනවා දැක්කා කියලා ඔහු කිව්වා. ඒකත් මම අනුමත කරනවා. දස කුසල් කරන කෙනා සුගතියේමයි යන්නේ කියලා එයා කිව්වනෙ, ඒක මම අනුමත කරන්නෑ. කුසල් කරන අය දිව්‍යලෝකෙ

යනවා කියන අදහසමයි, වෙන අදහස් වැරදියි කියලා කිව්වනෙ එයා. ඒක මම අනුමත කරන්නෙත් නෑ. මෙයමයි සත්‍යය අනිත් ඒවා බොරුයි කියලා එයා කිව්වනෙ. ඒක මම අනුමත කරන්නෙත් නෑ. හොඳට කල්පනාවෙන් අහන් ඉන්න පින්වත්නි. බුදු කෙනෙක් පහළ නොවෙන්න හිතන්න වත් බෑ, හිතන්නවත් බෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා ආනන්ද, අර හතරවෙනි එක්කෙනා, ඒ කියන්නෙ එයා දැක්කා දස කුසල් කරන කෙනා අපායේ යනවා. කුසල් කරපු කෙනා අපායේ යනවා දිවැසින් දැක්කා එයා. එයා කිව්වනෙ ප්‍රකාශයක් කලා ඒ දිවැසින් දැකපු එක්කෙනා, කුසල් වල විපාක නැත. ආනන්ද, මම ඒක අනුමත කරන් නෑ. කුසල් කරපු කෙනෙක් අපායෙ යනවා මම දැක්කා. ආනන්ද, මම ඒක අනුමත කරනවා. එතකොට දස කුසල් කරන අය යන්නෙ අපායේ, එයා කිව්වා ප්‍රකාශයක්. මම ඒක අනුමත කරන් නෑ. ඊටපස්සෙ ආනන්ද එයා කිව්වා, මේක තමයි, දස කුසල් කරන අය අපායෙ යනවා, ඒ වගේ අදහසක් කිව්වොත් නම් හරි මොකද මම දැක්ක දේ, වෙන අදහසක් කිව්වොත් වැරදියි කියලා එයා කිව්වනෙ. ඒක මම අනුමත කරන් නෑ. ඉද මේව සච්චං මෝගමඤ්ඤන්ති, මේක තමයි හරි අනිත් අයගෙ අදහස් වැරදියි කියලා එයාගෙ අදහසක් තිබ්බනෙ. ඒක මම අනුමත කරන්නෙත් නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, ඇයි එහෙම කරන් නැත්තේ? පින්වත් ආනන්ද, තථාගතයන් වහන්සේගේ මහා කම්ම විභංග ඥාණය වෙන එකක්. මේ අය මේ දැකලා කියන එකක්නෙ මේ. නමුත් බුදුරජාණන් වහන්සේගේ මහා කම්ම විභංග ඥාණය වෙන එකක්. එතකොට පින්වතුනි මේක පුදුම කතාවක්. දැන් මේක අහගෙන ඉන්නකොට ඔබටත් සමහර විට, දැන් මට නම් මේක ඉස්සෙල්ලාම අහනකොට පුදුම විදියට බයක් හිතුනා. ඒ කියන්නෙ දැන් හොඳට කෙනෙක් ඉන්නවා. කෙනෙක් දිව්‍යලෝකෙ යන්න පුලුවන් කෙනෙක් හතර අපායට වැටෙනවා. එතකොට මේක කොහොමද වෙන්නෙ කියලා බලමු. ඔන්න බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, අර හතර දෙනාගෙම අදහස් බුදුරජාණන් වහන්සේ ඒ විදියට බැහැර කරන්නෙ, බුදුරජාණන් වහන්සේගේ කම්ම විභංග ඥාණය වෙනයි. මහා කම්ම විභංග ඥාණය වෙන එකක්. මොකක්ද බුදුරජාණන් වහන්සේගේ මහා කම්ම විභංග ඥාණයෙන් දකින ටික, මෙන්න විස්තර කරනවා දැන් අපේ ශාස්තෘන් වහන්සේ. බුදු කෙනෙක් හැරුණු කොට නම් මෙහෙම නම් දකින්නෙ නෑ. අපිට සරණ යන්න ලැබුනේ තුන් ලෝකයේම අග්‍ර වූ ශාස්තෘන් වහන්සේ. අපි ඉන්න ඕන පුදුම විදියේ ඇත්තටම අහිංසක ආඩම්බරයකින් වාසය කරන්න ඕන, උතුම් ශාස්තෘන් වහන්සේ සරණ යන්න

ලැබීම ගැන. දේශනා කරනවා පින්වත් ආනන්ද, මෙහිලා යම් පුද්ගලයෙක් සතුන් මරනවා, හොරකම් කරනවා, වැරදි කාමසේවනය කරනවා, එතකොට බොරු කියනවා, කේලම් කියනවා, හිස්වචන කියනවා, පරුෂ වචන කියනවා, ලෝභයෙන් ඉන්නවා, තරහෙන් ඉන්නවා, මිත්‍යා දෘෂ්ටිකයි. ඊටපස්සෙ ආනන්ද මෙයා මැරුණට පස්සෙ දුගතියේ උපදිනවා. ඔහු විසින් දුක් විඳීමට හේතුවන පාපකර්මය කරලා තියෙන්නෙ කලින්. ඒ වගේම දුක් විඳීමට හේතු වන පාප කර්මයයි ඔහු පස්සෙ කරලා තියෙන්නෙ. මරණාසන්න කාලෙ ඔහු කරලා තියෙන්නෙ මිත්‍යා දෘෂ්ටික වෙලා, මිත්‍යා දෘෂ්ටික කර්ම සමාදන් වෙලා හිටපු එකයි. ඒ නිසයි ඔහු කය බිඳී මරණින් මත්තෙ අපාය නම් වූ, දුගතිය නම් වූ විනිපාත නම් වූ නිරයේ ඉපදුනේ. යම් හෙයකින් ඔහු මෙලොවදී සතුන් මරනවාද, සොරකම් කරනවා ද, ඒ අකුසල් කරනවාද, මිත්‍යා දෘෂ්ටිකව ඉන්නවාද ඒ කර්මයේ විපාක දිට්ඨධම්මවේදනීය වෙනවා, නැත්නම් උපපජ්ජවේදනීය කර්ම වෙනවා, නැත්නම් අපරාපරිය කර්ම වේදනීය වෙනවා. අපරාපරිය කම්ම. දැන් මේ කාරණාව ඔබට තේරුණාද? ආයෙ සැරයක් තේරුම් කරන්නම්. ඇත්තටම පින්වතුනි, මේක පුදුම සහගත දෙයක්. දැන් මේ පව් කරපු කෙනා අපායේ ගියානෙ. දැන් මෙතන වෙලා තියෙන්නෙ ඒ පව් වලට නෙවෙයි අපායෙ ගිහිල්ලා තියෙන්නෙ. කලින් ජීවිතේක කරපු පාපයකට. කලින් ජීවිතේක කරපු පාපයකට මෙයා අපායේ ගිහිල්ලා තියෙන්නෙ. ඒක දැක්කෙ කව්ද? බුදුරජාණන් වහන්සේ. කොහොමද? මහා කම්ම විභංග ඥාණයෙන්. ඔන්න කෙනෙක් පව් කර කර ඉන්නවා. එයා මැරිලා අපායෙ යනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ මොහු දෙස බලනවා. බලනකොට බුදුරජාණන් වහන්සේට පේනවා මෙයා අපායේ ගිහිල්ලා තියෙන මේ ජීවිතේ කරපු පව් ටිකට නෙවෙයි. කලින් ජීවිතේ කරපු පාපයක් ඇවිල්ලා තමයි අපායෙ ගිහිල්ලා තියෙන්නෙ. හොයන්න බෑ. ඒ නිසයි අර පුද්ගලයා දිවැසින් දැක්ක පමණින් භාග්‍යවතුන් වහන්සේ ඒවා අනුමත කරන් නැත්තෙ. එතකොට එයා කලින් ජීවිතේ කරපු පාපෙ, කලින් ජීවිතේ පව් කරලා, අවසාන කාලෙ, බලන්න පින්වතුනි දැන් වුනත් සම්මා දිට්ඨියට පත්වීමේ වෙනස බලන්න. දැන් වුනත් සම්මා දිට්ඨියට පත්වුනොත් එහෙම එයා මෙතෙක් කරපු කර්ම වල ලොකු වෙනසක් ඇතිවෙනවා. ඒ කියන්නෙ එයාගේ පාර වෙනස් වෙනවා. මේ සූත්‍ර දේශනාවෙ තියෙනවා කලින් ජීවිතේ එයා පව් කරලා, මරණාසන්න මොහොතෙත් මිත්‍යා දෘෂ්ටිකව ඉඳලා, මිත්‍යා දෘෂ්ටි කර්ම සමාදන් වෙලා ඉඳලා. ඒ කර්මය ආවා දැන්. මරණාසන්න වෙනකොට ආවා මෙයාට. ඇවිල්ලා

නිරයට ගියා. එයා දැන් මේ ජීවිතේ කරපු පව් ටිකක් තිබ්බනෙ. මේ ජීවිතේදි. දැන් ඊළඟ ජීවිතේට අපායෙ යන්න ඉදිරිපත් වුනේ කලින් ජීවිතේ පාපයක්නෙ. එතකොට මේ ජීවිතේ පව් ටිකට මොකද වුනේ? ඒ පව් ටික එක්කො මේ ජීවිතේම විපාක දෙනවා, දිට්ඨධම්මවේදනීයව. එක්කො ඊළඟ ජීවිතේකට එනවා, උපපජ්ජවේදනීය. එක්කො අපරාපරිය, කවදා හරි විපාක දෙනවා. පුදුම සහගත කර්ම බලවේගයකට අපි අහුවෙලා ඉන්නෙ. අපි ඊළඟ එකත් බලමු තේරෙන්න. ඔන්න බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා කෙනෙක් ඔන්න සත්තු මරනවා, හොරකම් කරනවා, සිතින් කයින් වචනයෙන් පව් කරනවා. මෙයා මොකද වෙන්නේ. කය බිඳිලා මරණින් මත්තෙ සුගතියේ උපදිනවා. එහෙම ඉපදුනාට පින්වත් ආනන්ද, ඔහු සුගතියේ යන්න කුසල් කරලා තියෙන්නෙ දැන් නෙවෙයි කලින්. ඒ කලින් කුසල් කරලා, ඒ කුසල් වල ඉඳලා, මරණාසන්න මොහොතෙත් ඒ කාලෙ කුසල් කරල සම්මා දිට්ඨියෙන් යුතු වෙලා, සම්මා දිට්ඨි කර්ම සමාදන් වෙලා ඉඳලා කලින්. ඒක ඉදිරිපත් වෙලා තමයි දැන් සුගතියේ ඉපදුනේ. එතකොට ආනන්ද මේ ජීවිතේ එයා සත්තු මැරුවා හොරකම් කලා, වැරදි වැඩ කලානෙ දැන්. ඒ ටිකට මොකද වෙන්නෙ? ඒ ටික මේ ජීවිතේ හරි විපාක දෙනවා. දිට්ඨධම්මවේදනීයයි. එක්කො ඊළඟ ජීවිතේකට හරි එනවා, උපපජ්ජවේදනීය කර්ම. එක්කෝ එයාට සසර පුරාවට යම් තැනක විපාක දෙනවා, අපරාපරියවේදනීය කර්ම. දැන් බලන්න මේ කිසිම බුද්ධ දේශනාවක අහෝසි කර්ම කියලා නෑ පින්වත්නි. ඒවා අපි ඉස්සර ඉගෙන ගත්තා, බණ ධර්මය ත්‍රිපිටකයේ නෑ. අහෝසි කර්ම කියලා එකක් නෑ, මෙතනත් විස්තර කරනවා. ඉතින් ඊටපස්සෙ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ආනන්ද, දැන් මේවා ඔක්කෝම භාග්‍යවතුන් වහන්සේ දකින්නේ මහා කම්ම විභංග ඥාණයෙන්. කර්මය බෙද බෙදා දකින ඥාණයක් තියෙනවා. ඔන්න යම්කිසි කෙනෙක් හොඳ කරනවා, කුසල්. සත්තු මරන් නෑ, හොරකම් කරන් නෑ, වැරදි වැඩ කරන් නෑ, වැරදි කාම සේවනය, බොරු කියන්නෑ, කේලම් කියන්නෑ, පරුෂ වචන කියන් නෑ, හිස් වචන කියන් නෑ, අනුන්ගෙ දේවල් වලට ලෝභ කරන් නෑ, තරහෙන් ඉන් නෑ, ඊළඟට සම්මාදිට්ඨියෙන් යුක්තයි, මිත්‍යාදෘෂ්ටික නෑ. මෙයා මැරිලා දිව්‍යලෝකෙ යනවා. එතකොට අපිට දැන් පේන්නෙ දිවැසින් බැලුවොත් එහෙම පින් කලා සුගතියේ ගියා. බුදුරජාණන් වහන්සේ කම්ම විභංග ඥාණයෙන් දකිනවා නමුත් මෙයා සුගතියේ ගියෙ මේ දැන් කරපු හොඳ ටිකට නෙවෙයි. මෙයා කලින් ජීවිතේ කුසල් කරලා තියෙනවා. කලින් ජීවිතේ බොහෝ කුසල් කරලා තියෙනවා. යහපත

කරලා තියෙනවා. අවසාන කාලෙත් කුසල් වල ඉඳලා තියෙනවා. සම්‍යදෘෂ්ටික වෙලා තියෙනවා, සම්‍යදෘෂ්ටික කර්ම සමාදන් වෙලා ඉඳලා තියෙනවා. ඒක ඉදිරිපත් වුනා. ඉදිරිපත් වෙලා සුගතියේ ගියා. එතකොට ආනන්ද දැන් මේ ජීවිතේ කරපු පින් ටිකට මොකද වුනේ? ඒ පින් ටික එක්කො දිට්ඨධම්මවේදනීය වෙලා එනවා මේ ජීවිතේට. එහෙම නැත්නම් ඊළඟ ජීවිතේට එනවා උපපජ්ජවේදනීය කර්ම. එහෙම නැත්නම් සසරේ කවදාහරි කොතැනක හරි විපාක දෙනවා, අපරාපරියවේදනීය කර්ම. පුදුම සහගතයි. මේක තේරුම් ගන්න. ඔන්න ඊළඟ කාරණය. හතරවෙනි එක්කෙනා ගැන. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පින්වත් ආනන්ද, මෙහිලා යම් පුද්ගලයෙක් සතුන් මැරීමෙන් වැළකිලා, සොරකමින් වැළකිලා, වැරදි කාම සේවනයෙන් වැළකිලා, බොරු කීමෙන් වැළකිලා, පරුෂ වචනයෙන් වැළකිලා, හිස් වචනයෙන් වැළකිලා, අනුන්ගේ දේට ලෝභ කරන එකෙන් වැළකිලා, ව්‍යාපාද කරන එකෙන් වැළකිලා, සම්‍යදෘෂ්ටික වෙලා හිටියා. එයා මැරිලා ඉපදුනානෙ නිරයේ. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, ඔහු විසින් දුක් විඳීමට හේතු වන පාප කර්මය කරලා තියෙන්නෙ කලින්මයි. ඒ වගේමයි මේ දුක් විඳීමට හේතු වන ඒ පාපකර්මයමයි ඔහු පස්සෙ කරලා තියෙන්නෙත්. මරණාසන්න කාලෙදිත් ඔහු කරලා තියෙන්නෙ මිත්‍යාදෘෂ්ටික වෙලා, මිත්‍යාදෘෂ්ටික කර්ම සමාදන් වෙලා හිටපු එකයි. ඒ නිසයි ඔහු කය බිඳී මරණින් මතු අපාය නම් වූ දුගතියේ නම් විනිපාත නිරයේ ඉපදුනේ. ඒ වගේම යම් හෙයකින් ඔහු මෙලොවදී මේ ජීවිතේ සත්තු මැරීමෙන් වැළකුනා නම්, හොරකම් කිරීමෙන් වැළකුණා නම්, සුචරිතය පුරුදු කලා නම්, සම්මා දිට්ඨියෙන් යුක්ත වුනා නම් ඒ කර්මයේ විපාක මේ ජීවිතේම ලැබෙනවා, දිට්ඨධම්මවේදනීයයි. එහෙම නැත්නම් ඊළඟ ආත්මභාවයේදී ලැබෙනවා, උපපජ්ජවේදනීයයි. එහෙම නැත්නම් කවදා හෝ කොතැනකදී හෝ විපාක දෙනවා. අපරාපරියවේදනීය යි. පින්වත් ආනන්ද, දැන් බලන්න ඒකෙ ස්වභාවය. පින්වත් ආනන්ද, ඔය විදියට අකුසලය මැඩලන, අකුසල කර්ම තියෙනවා. ඇයි අර පළවෙනි කෙනා පව් කර කර ඉඳලා නිරේ ගියෙ, මේ ජීවිතේ කරපු පව් ටිකට නෙවෙයි. මේකට උඩින් ආවා සංසාරේ කරපු පාපයක්. පුදුම සහගතයි. අකුසල මැඩලන අකුසල තියෙනවා. ඊටපස්සෙ කුසලය මැඩලන අකුසල කර්ම තියෙනවා. බලන්න හොඳට පින් කරගෙන හිටියා, කුසල් කරගෙන. ඊළඟ ජීවිතේ නිරයේ ගියා. ඇයි ඒ? කුසලය යටපත් කරන සංසාරයේ අකුසල් එනවා. කුසලය මැඩලන කුසල කර්ම තියෙනවා. බලන්න හොඳට එක්කෙනෙක් හිටියා

පින් කරගෙන. ඊළඟ ජීවිතේ සුගතියේ ගියා. හැබැයි සුගතියට ගියෙ මේ ජීවිතේ කරපු කුසල් වලට නෙවෙයි, කලින් ජීවිතේ කරපු කුසල් වලින්. එතකොට මේ කුසලය යටපත් කරගන්න සසරේ කුසලය ආවා. කුසල් මැඩලන කුසල් තියෙනවා. අකුසලය මැඩලන කුසල කර්ම තියෙනවා. බලන්න මේ ජීවිතේ පව් කර කර හිටියා. ඊළඟ ජීවිතේ සුගතියේ ගියා. ඇයි ඒ? සංසාරේ කරපු කලින් ජීවිතේ කරපු කුසලය ආවා. මේ පව් ටික ඔක්කොම යටගියා, සුගතියට ගියා. කර්ම විපාක, මේ කර්ම විභාගය දකින්නේම බුදුරජාණන් වහන්සේ. ඉතින් භාග්‍යවතුන් වහන්සේ මේ දේශනාව වදාළාට පස්සෙ හිස් මුදුනින් සාදු කාර දීලා භාග්‍යවතුන් වහන්සේගේ මහා කම්ම විභංග ඥාණයෙන් වදාළ දේශනාව අනුමෝදන් වුනා ආනන්ද ස්වාමීන් වහන්සේ ඇතුළු සංඝයා. එතකොට බලන්න පින්වතුනි, පුදුම සහගතයි. මට මේ කතාව කියනකොට මතක් වුනේ. දැන් ගත්තොත් එහෙම අපුත්තක සිටාණන්. එයා සංසාරයේ පසේ බුදුරජාණන් වහන්සේ නමකට දන් දෙන්න කියලා ගෙදර අයට කිව්වා. ඊටපස්සෙ ඔන්න ගෙදර අය දානෙ හදලා දුන්නා. ඉතින් පාත්‍රය පුරවලා දානය දුන්නු නිසා දැන් මෙයා කාටවත් දෙන්න කියන් නෑ, ඒ නිසා ගෙදර අය හිතුවා මේක විශේෂ අවස්ථාවක් වෙන්න ඇති කියලා හොඳට දුන්නා දානෙ. නමුත් ඒ මනුස්සයා ඒක දිහා බලලා හිතුවා අනේ ගෙදර වැඩකාර මනුස්සයෙකුට දුන්නා නම් දර කෑල්ලක් පලාගන්න තිබුනා, මගෙත් කට වැරදුනානෙ කියලා. ඊටපස්සෙ අපැහැදුනා. ඊටපස්සේ මෙයා මොකද කලේ, ඔන්න පසේ බුදුරජාණන් වහන්සේ නමකට දැන් ඔන්න දන් දෙන්න කියලා කිව්වනෙ. ඊටපස්සෙ මෙයා ඉඩමක ප්‍රශ්නෙකට තමන්ගෙ සහෝදරයෙක්ගේ පුතෙක් මැරුවා. ඔන්න දැන් පසේ බුදුරජාණන් වහන්සේ නමකට දන් දීපු පිනක් තියෙන කෙනා අර පුතෙක් මරපු පාපකර්මය ඇවිල්ලා ඊළඟ ජීවිතේ නිරයේ ගියා. නිරයේ දුක් විඳ විඳ ඉන්නකොට පසේ බුදු කෙනෙකුට දානෙ දෙන්න කියලා කියපු වචනයේ පින ඇවිල්ලා නිරයේ කර්ම විපාකය ඉවරවෙච්චි ගමන් සිටුවරයෙක් වෙලා ඉපදුනා. දැන් ඒ සිටුවරයා හරී ලෝභයි. එකෙකුට කිසි දෙයක් දෙන් නෑ. දරුවොත් නෑ, කලින් දරුවෙක් මරලා තියෙන නිසා, දරුවො නෑ. ඊටපස්සෙ තමන් හොඳට කන්නෙ බොන්නෙත් නෑ. ඇයි, දීලා හිත අපහදවගත්ත කර්මෙ ආවා ලැබුනට භුක්ති විඳින්න හිතෙන් නෑ. රෙදි කඩමල්ලක් ඇඳගෙන, දිරාපු කරත්තෙක යන්නෙ. මහා මාළිගාවක් තියෙනවා. සිටුවරයෙක්නෙ. කිසිම පිනක් කරන් නෑ, ඔන්න මේ මනුස්සයා, සිටුවරයා මැරුණා. මැරිච්ච ගමන් ආයෙ ආවා අර පසේ බුදුරජාණන් වහන්සේට දානෙ දෙන්න කියපු වචනයේ පින ආවා. ආයෙ

සිටුවරයෙක්. ආයෙ කිසිම පිනක් කලේ නෑ. ඊටපස්සෙ ඔන්න ඒ පිනක් කරපු නැති සිටුවරයා මැරුණා. මැරුණට පස්සෙ ආයෙ අර පසේ බුදුරජාණන් වහන්සේට දානයක් දෙන්න කියපු පින ආවා. ආයෙ සිටුවරයෙක්. මේ විදියට සිටුවරයෙක් වෙලාම හත් වතාවක් ඉපදුනා. එතකොට අර වචනයේ පින ගෙවුනා. ඇයි එයා ජීවිත හතක් කිසිම වෙන කුසලයක් නැතිව වචනයේ පිනෙන්ම ජීවත් වුනා. ඊටපස්සෙ ඒ ජීවිතේ මැරුණා. අර සසරේ පුරාවට අර ජීවිත හතේම කරපු අකුසල් කර්ම මුල් වුනා, ඊළඟ ජීවිතේ මහා රෞරව කියන නිරයේ වැටුනා. කර්ම වල ස්වභාවවල්. දැන් සමහරවෙලාවට මේවා තේරුම් ගත්තට පස්සේ තේරෙන්නෙ, බුදුරජාණන් වහන්සේටනෙ පෙන්නෙ. ඔන්න කෙනෙක් දැන් එඩ්ගා කේසී මෝහනය කලා. එතකොට පේනවා කලින් ජීවිතේ එයා මිනිස්සු වෙලා හිටපු ඒවා. ඊටපස්සෙ පුනරුප්පත්ති කියනවා. කලින් ජීවිතේ මං අහවල් තැන හිටියා. අහවල් තැන මං වෙඩි වැදුනා. අහවල් යුද්ධෙදි මං මැරුණා කියලා පෙර ජීවිත කියනවා. එතකොට ඒවත් එක්ක බැලුවහම පේනවා හැම ජීවිතෙකින්ම මැරි මැරි මනුස්සයො වෙනවාම පේනවා. නමුත් කවුද දන්නෙ, බුදු කෙනෙක්නෙ මේක දන්නෙ. සමහර විට එක පිනකින් ජීවිත ගණනාවක් මනුස්ස උපත් හදලා දෙනවා. ඇයි දැන් ආනන්ද ස්වාමීන් වහන්සේට භාග්‍යවතුන් වහන්සේ දේශනා කරන්නෙ ආනන්ද ස්වාමීන් වහන්සේගේ ලෝකධාතු විඤ්ඤාපනය, අර ලෝක ධාතු ගැන දේශනා කරපු වෙලාවෙ චූලනිකා ලෝකධාතුව, ඊළඟට මජ්ඣිමා සහස්සී ලෝකධාතුව, මහසහස්සී ලෝක ධාතුව ගැන විස්තර කරද්දී ආනන්ද ස්වාමීන් වහන්සේගේ පැහැදීමේ විපාක ගැන බුදුරජාණන් වහන්සේ පැහැදිලි කලානෙ. මේකෙන් සත් වතාවක් සක්විති රජවෙනවා කියලා. හැබැයි සක්විති රජ්ජුරුවෝ කරන කර්මයෙන්මයි රජ වෙන්නෙ. අර එක පිනකින්ම හත්වතාවක් ලබලා දෙනවා. මේවා පේන්නෙ භාග්‍යවතුන් වහන්සේට. ඉතින් ඒ නිසා ඒ වාගේ හොඳ පැත්තටත් තියෙනවා, නරක පැත්තටත් තියෙනවා. එතකොට කොහොමද දැන් අපිට, මේක හොඳට වැඩ කළොත් හොඳයි. දැන් කර්මය කියන එක ආත්මයි ද? තමන්ගේ වසඟයේ පවත්වන්න පුලුවන්ද? මම, මගේ ආත්මය මෙසේ වේවා. මං කරපු පින් බලයෙන් සංසාරේ පින් ද එකතු වෙලා ඊළඟ ජීවිතේ මං සුගතියේ. ඒ වගේ පුලුවන්ද? ආත්ම නෑ මේක අනාත්මයි. ඒ නිසා ඇත්තටම අතිශයින් භයානක බවක් තියෙනවා. අතිශයින් භයානක බවක් තියෙනවා, සසර ගමන. ඒ නිසා බුදුරජාණන් වහන්සේ මහා කම්ම විභංග ඥාණයෙන්, දසබල ඥාණයෙන්, සිව් විශාරද ඥාණයෙන්, කම්ම විභාග ඥාණයෙන් තියෙන

බුදුරජාණන් වහන්සේ ප්‍රකාශයක් කරලා තියෙනවා, මොකක්ද ඒ ප්‍රකාශය? මයිසද්ධාව මත්තං පේම මත්තං සබ්බේ තේ සබ්බපරායා. තථාගත බුදුරජාණන් වහන්සේ ගැන ශ්‍රද්ධා මාත්‍රයක්, ප්‍රේම මාත්‍රයක් තිබ්බොත් ඒ අය සුගතිය කරා යනවා කියලා. මේ තියෙන්නෙ සසර ගමන. ශ්‍රද්ධාව කියලා කියන්නෙ සසර ගමන නෙවෙයි, ලෝකෝත්තර ධර්මයක්. ලෝකෙන් එතෙර කරවන ධර්මයක්. මෙන්න මේ සසර ගමනට දාන වැටක්. මේ කර්ම විභාග ඥාණය තියෙන බුදුරජාණන් වහන්සේ, දස බල ඥාණ තියෙන බුදුරජාණන් වහන්සේ, සිව් විශාරද ඥාණ තියෙන බුදුරජාණන් වහන්සේ, ෂඩ් අසාධාරණ ඥාණ තියෙන බුදුරජාණන් වහන්සේ වදාළා මයි සද්ධාමත්තං පේම මත්තං සබ්බේ තේසබ්බපරායනා. තථාගත බුදුරජාණන් වහන්සේ ගැන ශ්‍රද්ධා මාත්‍රයක්, ප්‍රේම මාත්‍රයක් තිබ්බොත් ඒ අය සුගතිය කරා යනවා කියලා. ඒ නිසා බුද්ධං සරණං ගච්ඡාමි කියලා හදවතින්ම සරණ යන්න. ධර්මයේ සරණ යන්න, සංඝයා සරණ යන්න. ඔය විකාර අත්හැරලා දාන්න. වේලාපත්කඩ කිහිලි ගහගෙන දුවන ඒවා, නැකැත් නිමිති, කේන්දර දිශාවල් බල බලා වැඳ වැඳ ඉන්න ඒවා, ඒ විකාර හිත්වලින් අත්හැරලා බුදුරජාණන් වහන්සේ මුළු හදවතින්ම සරණ යන්න. තමන්ගේ ජීවිතේ දෙවියෝ බවට පත්කරගන්න ගුරු දෙවිඳු, කල්‍යාණ මිත්‍රයො. දෙවිවරු සේ සලකන්න. අම්මයි තාත්තයි බ්‍රහ්මයෝ විදියට සළකන්න. තමන්ගේ බ්‍රහ්ම විමානය, බ්‍රහ්ම ලෝකෙ කරගන්න ගෙදර. බිරිඳ ස්වාමියා දෙවියෙක් කරගන්න. දරුවො දෙමව්පියො බ්‍රහ්මයො කරගන්න. ගෙදරම හදාගන්න සුගතිය. මේ මුලු ලෝකෙයේම ශාන්ති නායකයාණන් වහන්සේ කරගන්න මහා කාරුණික බුදුරජාණන් වහන්සේ සරණ යන්න මුලු හදවතින්ම. දැවුණු ජීවිත බුදුරජාණන් වහන්සේ නැමැති හඳ මඩල ජීවිතයට ගෙදරට එකතු කරගෙන දැවුනු ජීවිත සිසිල් කරගන්න. අඳුරේ තියෙන ගෙවල් වලට භාග්‍යවතුන් වහන්සේ නැමැති හිරුමඩල වඩම්මගෙන ආලෝකමත් කරගන්න. කෙලෙස් වලින් ගඳ ගහන ජීවිතේට දසත සුවඳ විහිදෙන බුදුරජාණන් වහන්සේගේ බුදු ගුණ කඳෙන් සුවඳ කරගන්න. ඔබට නරකක් වෙන් නෑ. මේ සසර ගමන භයානකයි. මම නම් මේ සසර ගමනට වැටෙන් නෑ කියලා සිංහ නාද කරන්න පුලුවන් කෙනෙක් ඉන්නවා. මෙන්න මේ තත්ත්වයට මේ සසර ගමනට මං වැටෙන් නෑ කියලා සිංහනාද කරන්න පුලුවන් කෙනෙක් ඉන්නවා. කවුද ඒ සිංහනාද කරන්න පුලුවන් කෙනා? බුදුරජාණන් වහන්සේ ගැන අවිච්ඡප්‍රසාදයට පත්වුනොත්, ධර්ම රත්නය ගැන අවිච්ඡප්‍රසාදයට පත්වුනොත්, සංඝරත්නය ගැන අවිච්ඡප්‍රසාදයට පත්වුනොත්, කඩන්නැති

පඤ්චසීලයකින්, කැඩෙන්නැති පඤ්චසීලයකින්, ආර්යකාන්ත සීලයකින් යම්කිසි කෙනෙක් යුක්ත වුනාද, ඔහුට සිංහ නාද කරන්න පුලුවන්. මා නම් සතර අපායේ වැටෙන් නෑ කියලා. යම්කිසි කෙනෙකුට පුලුවන් නම් මේ සරණට පැමිණිලා මේ ඇස අනිත්‍යයි කියලා අවබෝධ කරගන්න, කණ අනිත්‍යයි කියලා අවබෝධ කරගන්න, නාසය අනිත්‍යයි කියලා අවබෝධ කරගන්න, දිව අනිත්‍යයි කියලා අවබෝධ කරගන්න, මේ කය අනිත්‍යයි කියලා අවබෝධ කරගන්න, මනස අනිත්‍යයි කියලා අවබෝධ කරගන්න, එයාට සිංහනාද කරන්න පුලුවන්, මම සතර අපායට වැටෙන් නෑ කියලා. මේ තමයි සසර ගමන, ඒ කියන්නෙ අපිට තේරෙන් නෑ පින්වත්නි මේ, සමහර විට ඔබ මේ ජීවිතේ මනුස්සයෙක් වුනේ කවදා කරපු පිනකින් ද දන්නෑ. මිනිස්සු හිතන්නෙ අපි ගිය ආත්මෙ කරපු ඒවා. හැම එකක්ම ගිය ආත්මෙට පටවන්න බෑ. අනාදිමත් සසරේ. දැන් මහා බෝධිසත්ත්වයන් වහන්සේ ඔච්චර පාරමී පුර පුරා ඉද්දින් තිරිසන් ලෝකෙට වැටෙනවා. වඳුරෙක් වෙනවා, ගවයෙක් වෙනවා, අශ්වයෙක් වෙනවා. සමහර වෙලාවට මේ කර්මානුරූපව, මේ ධර්මතාවය අනුව හිතෙන් නැද්ද, දීපංකර පාද මූලයේ විවරණ ලබන්න කලින් කරපු කර්ම වල විපාක වෙන්න පුලුවන්. අපිට තේරෙන් නෑ, මං ඒ නිකං මතක් කලේ. මොකද මට මුණගැහිලා තියෙනවා බුදු බව පතන අය. මාත් එක්ක කතා කරලා තියෙනවා. ඒ අය මට එක හාමුදුරුනමක් කිව්වා මං බුදුබව පතන්නෙ, මං පින් පව් දෙකම කරනවා කියලා කිව්වා. මං ඇහුවා ඇයි එහෙම කරන්නෙ, බුදු බව පතනවා නම් පිරිසිදුව යන්න එපායැ. පාරමී පුරාගෙන. නෑ නෑ බෝධිසත්ත්වයොත් අපායට වැටිලා තියෙන්නෙ. සතර අපායට වැටිලා තියෙන්නෙ, තිරිසන් ලෝකෙට වැටිලා තියෙන්නෙ, ඉතින් මටත් ඒවට වැටෙන්න ඕන කිව්වා. එතකොට බලන්න සරණක් නැති නිසා. දැන් මේ කම්ම විභංග සූත්‍රය බුදුරජාණන් වහන්සේ දේශනා කරලා අපිව අසරණ කලේ නෑ. මේ තමයි සත්‍යය. අනතුර පෙන්නුවා. ඒ අනතුරින් අපි ගැලවෙන්න ඕන. එතකොට බලන්න සරණක් නැති එක, දැන් බුදු බවක් පතනවා සරණක් නෑ. එතකොට බුදුරජාණන් වහන්සේ අපිට මේවා දේශනා කලේ අසරණ වෙන්න නෙවෙයි. අපිට සරණක් දුන්නෙ, මේ කර්ම විභංගය, දැන් මං බැලුවා මේ කර්ම විභාගය සූත්‍රය බලලා මං කල්පනා කලා මේක මහා භයානක දෙයක්නෙ කියලා. ඇයි අපි දන්නෑනෙ, එතකොට මගේ හිතට ආවා, බුදුරජාණන් වහන්සේ මහා කරුණාවෙන් අපිට සරණක් දේශනා කලා. ගිහි අයට පඤ්චසීලයක් දුන්නා. ඊළඟට බුදුරජාණන් වහන්සේ ශ්‍රද්ධා මාත්‍රයක්, ප්‍රේම මාත්‍රයක් ඇති කරගන්න කියලා කිව්වා සුගතියේ ඉපදෙනවා

කියලා. ශ්‍රද්ධා, සීල, සුත, ත්‍යාග, පඤ්ඤා සේඛබල ධර්ම පහ පිහිටුවාගන්න කිව්වා. එයාගේ චිත්ත ප්‍රාර්ථනාව ඉෂ්ඨවෙනවා කියලා. ඊළඟට බුදුරජාණන් වහන්සේ අනිත්‍ය වශයෙන්, දුක් වශයෙන්, අනාත්ම වශයෙන් මේ සංස්කාර ධර්ම විමසන්න කිව්වා. සසර ගමනෙන් නිදහස් වෙනවා කියලා. වැඩපිළිවෙලක් දීලා තියෙනවානෙ. එතකොට බුදුරජාණන් වහන්සේ යම්තාක් ප්‍රතිපදා දීලා තියෙනවා නම් මෙන්න මේ ගමනින් වැළකීම පිණිසයි. බුදුරජාණන් වහන්සේ වදාළ දේවල් අපි කරන් නැත්නම්, මේ හතර එයාට වළංගුයි. මොකද මේ සසර ස්වභාවයෙන් ගැලවීම පිණිසනෙ. මේක තමයි සසර. එතකොට මං කිව්වා ශ්‍රද්ධාව වුනත් සසරට අයිති නෑ. ශ්‍රද්ධාව අයිති ලෝකෝත්තර. සරණේ පිහිටලා රකින සීලය සසරට අයිති නෑ. ඒක අයිති ලෝකෝත්තර. සරණේ පිහිටලා කරන ඉන්ද්‍රිය සංවරය අයිති සසරට නෙවෙයි, ඒවා ලෝකෝත්තර. සරණේ පිහිටලා කරන භාවනාව සසරට නෙවෙයි ලෝකෝත්තර. එතනින් තමයි ලෝකෙයෙන් එතෙර වෙන්නෙ. කොච්චර පිහිටක් තියෙනවා ද කියලා හොඳට කල්පනා කරන්න. අපිට දැන් මෙච්චර කාලයක් බුදු ගුණ අහන්න ලැබිච්චි එක මේ කම්ම විභංග ඥාණ, අපේ ශාස්තෘන් වහන්සේ ඒකාන්තයෙන් ආශ්චර්‍යයි. අද්භූතයි. බුදුරජාණන් වහන්සේ නම් ඒකාන්තයෙන්ම සම්මා සම්බුද්ධයි. මේ ධර්මය මැනැවින් පිරිසිදුව ලෝකෙ කිසිම තැනක කියලා නැති පිරිසිදු ධර්මයක් දේශනා කලා. ධර්මය ඒකාන්තයෙන්ම ස්වාඛාතය. මේ ධර්මය පිළිපදින අය නම් රාග ද්වේෂ මෝහ ප්‍රහාණය කරනවාමයි. ඒකාන්තයෙන්ම සංඝයා සුපටිපන්නයි. ඔන්න ඔය ශ්‍රද්ධාව යම්කිසි කෙනෙකුගේ හදවතේ පිහිටියොත් ඔහු මේ ලෝකෝත්තර තත්ත්වයට හිත වඩනවා. එයාලා තමයි ගෞතම ශාසනයේ පිහිට ගන්නෙ. ඒ නිසා අද අපි කතා කලා ගෞතම බුදුරජාණන් වහන්සේගේ මහා කම්ම විභංග ඥාණය. මේක තේරුම් ගන්න. මේක කටපාඩම් කරගන්න. ඒ වගේම අන් අයට කියලා දෙන්න. සම්මාදම් කරවන්න. ශාස්තෘන් වහන්සේට පහදින්න. ඉතින් ඔබට පිනක් තිබුනොත්, අපිටත් පිනක් තිබුනොත් තව මේ වගේ බුදුරජාණන් වහන්සේගේ ඥාණ අපිට තවත් කතා කරගන්න ලැබුනොත් භාග්‍යයක්. ඒ නිසා තුන් ලෝකෙට කලාතුරකින් බොහෝ දෙවිමිනිස්සුන්ට හිතසුව පිණිස පහළ වෙන බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණ ලබමින් මේ දුක්ඛිත සසරෙන් නිදහස් වෙන්න වාසනාව ලැබේවා.

ඉතින් පින්වත්නි අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ පදිංචි වෛද්‍ය කුමෝෂා අබේවීර මහත්මිය

විසින්. ඉතින් මේ පින්වතුන් අද දවසේ විශාල භාග්‍යයක් රැස් කරගන්නවා, භාග්‍යවතුන් වහන්සේගේ කම්ම විභංග ඥාණය. නොදන්නා විස්තර. ලෝකෙ සත්‍යය අපිට අහන්න ලැබුනා. ඉතින් ඒ අහන්න සලස්වපු පින, ධර්ම දායකත්ව පින, ඒ වගේම භාග්‍යවතුන් වහන්සේගේ මහා කම්මවිභංග ඥාණයේ සත්‍යයි සත්‍යානුභාවය, අනුහස, බුදුගුණ හේතු වෙලා. මේ ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ වසංගතය දුරින්ම දුරු වෙලා මනුස්ස වර්ගයාට නිදුක් නිරෝගී සුවපත් බාවය සැලසේවා. බයක් සැකක් නැතිව මිනිස්සුන්ට ජීවත් වීමේ සැනසිල්ල උදාවේවා කියන සෙත් ප්‍රාර්ථනාව මුලින් කරනවා. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වෙත්වා. සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා දෙවියන්ට පින් පමුණුවනවා. මියගිය සියලු ඥාතීන්ට පින් අනුමෝදන් කරනවා පරලොව සැපයට පත්වේවා කියලා. පරම පූජනීය, ගුරු දේවෝත්තම, කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි මේ සූත්‍ර දේශනා අපි මේ ඉගෙන ගන්නෙ. ඉතින් ලොකු ස්වාමීන් වහන්සේ දැකලා තියෙනවා, කියලා දීළා තියෙනවා. ඉතින් ඒ මතකෙට තමයි අපි මේ සූත්‍ර දේශනාවල් හොයාගෙන කියවලා අපි මේ පැහැදීම ඇති කරගන්නෙ. ඒ නිසා පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා. දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලු ස්වාමීන් වහන්සේලාටත්, අනගාරිකා මෑණිවරුන්ටත් පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් මේ පින් අනුමෝදන් වෙලා මේ ගෝරතර සසරෙන් නිදහස් වෙන්න වාසනාව ලැබේවා. ඒ වගේම අද දවසේ මේ අප්‍රමාණ පින රැස් කරගන්නේ ඔස්ට්‍රේලියාවේ පදිංචි වෛද්‍ය කුමෝෂා අබේණවීර මහත්මිය විසින්. ඉතින් එතුමිය බලාපොරොත්තු වෙනවා ජූනි 9 වෙනිදට හැට අට වෙනි ජන්ම දිනය යෙදුනු චන්ද්‍රිකා පුංචිහේවා මහත්මියට නිදුක් නිරෝගී සුවපත්භාවය ප්‍රාර්ථනා කරගන්න. ඉතින් අද දවසේ රැස්කරගත්ත ඒ අප්‍රමාණ පින, මේ ලක්ෂ සංඛ්‍යාත පිරිසක් මේ ධර්මය ඇසූ පින චන්ද්‍රිකා පුංචිහේවා මහත්මියට අනුමෝදන් වේවා. නිදුක් නිරෝගී සුව සැලසේවා. ගෞතම සසුනේ පින් කුසල් රැස් කරගනිමින් බොහෝ කාලයක් ජීවත් වේවා. ඒ වාගේම කුමෝෂා අබේවීර මහත්මියටත් ඒ පවුලේ සියලු දෙනාටත්, ඒ වගේම අපි කාගෙත් මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් වේවා. ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයේ දරුවන්ට, ඒ වගේම දායකත්වය පවත්වමින් මාධ්‍යය පවත්වන

සියලු දෙනාට පින්සිදු වේවා. ඒ වගේම ඔබ සියලු දෙනාටත් මෙවැනි වූ කර්ම බලවේගයකට යටත්ව, ඒ කියන්නෙ කුසල් යට යවන අකුසල් තියෙනවා. අකුසල් යට යවන කුසල් තියෙනවා. මේ වගේ සසරක මේ සත්ත්වයා යන්නෙ. එයින් නිදහස් වෙලා ගෞතම බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණ ලබමින් නිවනින් සැනසෙත්වා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේත් අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහනින් ධර්මය ඉගෙන ගන්නයි ඔබ දැන් සූදානම් වෙන්නෙ. පින්වතුනි අපේ ජීවිතේට අපි ගත්තොත් අද දවසේම අපේ කණට යම් මොහොතක බණ පදයක් වැටෙනවා නම් ධර්මයක් ඇහෙනවා නම් ඒ මොහොත තමයි කණෙන් පින් කරගන්න වෙලාව, කුසල් කරගන්න වෙලාව. නැත්නම් මේ කන්වලට ගොඩාක් අපිට ඇහෙන්නෙ ඕපාදූප, කේලම්, පරුෂ වචන, ඕවා තමයි ගොඩාක් කන් වලට ඇහෙන්නෙ. ඉතින් ඒවා සසරේම ඇහිලා ඇහිලා ඇහිලා මේ කන් ඒවත් ඒවගෙන්ම මලකඩ කාලා. ඒවගෙන්ම ඒ හිස් වචන වලින්ම කන් වැහිලා. ඉතින් මේවා ඔක්කෝම සෝදාගෙන මේ කන් කුසලයෙන් පිරෙන්න අපි ගොඩාක් ධර්මය ශ්‍රවණය කරන්න ඕන. ඉතින් පින්වතුනි අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ මිහින්තලේ පදිංචි පින්වත් ස්වර්ණා ගුණතිලක මහත්මිය, එස්. විජේසිංහ මහත්මයා සහ තිලිණි නිසංසලා විජේසිංහ දියණිය විසින්. ඉතින් මේ පින්වතුන් මියපරලොව ගිය අයට පින් පමුණුවන්නටත්, ජීවතුන් අතර සිටින සියලු දෙනාට සෙත්

පිණිසත්, ඒ වාගේම මේ කොරෝනා වසංගතය සම්බන්ධයෙන් කටයුතු කරන සියලු දෙනාට සෙත් ප්‍රාර්ථනා කරලා මේ ව්‍යසනය දුරු වීම පිණිස සෙත් ප්‍රාර්ථනා කරන්නටත් බලාපොරොත්තු වෙනවා අද ධර්ම දානයෙන් රැස්වෙන පිනෙන්. එතකොට ධර්ම දානය දෙන පින්වතුන්ට නොඇසූ විරූ ධර්මය අහන්න සලස්වන එකෙනුත්, අමතක වී ගිය ධර්මය නැවත මතක් කිරීම තුළිනුත්, ඒ වගේම ධර්මය අහලා තුණුරුවන්ට ඇතිවන පැහැදීම තුළිනුත්, අන් අයට වන යහපත ධර්ම දානය දෙන පින්වතුන්ට පිනක් සේ අනුමෝදන් වෙනවා. ඉතින් ඒ නිසා හිතලා සන්තෝෂයට පත්වෙන්න ධර්ම දානය දීම ජීවිතේ කරගත්තු මහා කුසලයක් කියලා. ඉතින් පින්වතුනි අද දවසේත් අපි බලාපොරොත්තු වෙනවා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ගුණ කඳ, එතකොට අදත් විශේෂ ඥාණයක්. දැන් අපි බුදුරජාණන් වහන්සේගේ නවඅරහාදී බුදුගුණ කතා කලා, දසබල ඥාණ, විශාරද ඥාණ, ෂඩ් අසාධාරණ ඥාණ, ඒ වගේම බුදුරජාණන් වහන්සේ තුළ තියෙන මහා කම්ම විභංග ඥාණය. දැන් අද අපි කතා කරනවා පුරුෂඉන්ද්‍රිය ඥාණය. පුරිසඉන්ද්‍රිය ඥාණය. බුදුරජාණන් වහන්සේ තුළ තියෙන තවත් විශේෂ ඥාණයක්. අපේ ශාස්තෘන් වහන්සේගේ මෙවැනි මෙවැනි වූ බුදු නුවණ තියෙනවානේ කියලා හිතලා සන්තෝෂයට, චිත්තප්‍රසාදයට පත්වෙන්න ඕන. ඒ වගේම බුදුරජාණන් වහන්සේගේ බුදුනුවණට පහදින්නටත් ඕන. ඒ වගේම සසර ගමනේ භයානක කම තේරුම් ගන්නත් ඕන. දැන් අපි මීට කලින් දවසේ කතා කරපු මහා කම්ම විභංග ඥාණය බුදුරජාණන් වහන්සේට පහදින්න තියෙන බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් බුදු නුවණ. නමුත් ඒ ඇතුලේ කර්මය, කුසල් කරන කෙනාට ඒ මේ ජීවිතේ කරන කුසලය මැඩපවත්වාගෙන සංසාරයේ අකුසලයක් ඇවිල්ලා එයා දුගතියට යනවානෙ. ඊළඟට කුසල් කරන කෙනාටම මේ කුසලය නෙවෙයි සංසාරයේ කුසලයක් ඇවිල්ලා ඊළඟ ජීවිතේ සුගතියේ යනවා, මේ කුසලයට නෙවෙයි සසරේ කුසලයක්. කුසල් මැඩලන කුසල් තියෙනවා. කුසල් මැඩලන අකුසල් තියෙනවා. ඊටපස්සෙ අකුසල් කරන කෙනෙක් ඉන්නවා එයා මැරිලා දුගතියේ යනවා. හැබැයි බුදුරජාණන් වහන්සේගේ බුදු නුවණටයි පේන්නෙ, එයා දුගතියේ ගියේ මේ ජීවිතේ කරපු අකුසල වලට නෙවෙයි, පව් වලට නෙවෙයි, සසරේ කරපු පාපයකට. අකුසල් කරන කෙනා සුගතියේ යනවා, දෙව්ලොව. එතකොට ඒක බුදුරජාණන් වහන්සේට තමයි පේන්නෙ එයා සුගතියේ ගියේ මේ කරපු පව් වලට නෙවෙයි, සංසාරයේ පිනක් ඉස්මතු වෙලා. ඉතින් ඒ නිසා අකුසල් මැඩලන කුසල් තියෙනවා. ඊළඟට අකුසල් මැඩලන අකුසල් තියෙනවා.

ඉතින් සසරේ මෙහෙම ස්වභාවයක් තියෙනවා. මේක දකින්නේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. ඒ දකින ඥාණය බුදුරජාණන් වහන්සේගේ මහා කම්ම විභංග ඥාණය. එතකොට සංසාර ගමන කොහොම එකක්ද, චතුරාර්ය සත්‍යය අවබෝධ නොකිරීම, ඒකනේ බුදුරජාණන් වහන්සේ වදාලේ සෝතාපන්න වීම, පතව්‍යා ඒකරජ්ජේන සග්ගස්ස ගමනේන වා, බුදුරජාණන් වහන්සේ වදාළනෙ එක පාදයකින් සුගතියකට යනවාට වැඩිය, සක්විති රජ වෙනවාට වැඩිය, සෝතාපත්ති ඵලං වරං, සෝවාන් වෙන එකමයි ශ්‍රේෂ්ට කියලා. සෝතාපන්න කෙනා සතර අපායට වැටෙන් නෑ. ඉතින් ඒ නිසා අපි මේ කරුණු කාරණා තේරුම් ගන්න ඕන. ඒ සෝතාපන්න වීම පිණිස පවතින්නේ බුදුරජාණන් වහන්සේ පිළිබඳ තියෙන අවිච්ඡප්‍රසාදය, ධර්මය පිළිබඳ තියෙන අවිච්ඡප්‍රසාදය, සංඝයා පිළිබඳව තියෙන අවිච්ඡප්‍රසාදය, ඊළඟට ආර්යකාන්ත සීලය, සෝතාපන්න කෙනා තුළ පිහිටන දේ. සෝවාන් වීම පිණිස පවතින්නේ සත්පුරුෂයන් ඇසුරු කිරීම, ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කිරීම, යෝනිසෝමනසිකාරය, ධම්මානුධම්ම ප්‍රතිපදාව. අපි ඉදිරියට මේ ඉස්සෙල්ලාම තුණුරුවන් ගැන පැහැදීම ඇතිකරගන්න. එතකොට මේ ධර්මය ශ්‍රවණය කරනවා කියන්නෙ අපිට සත්පුරුෂ ඇසුර ලැබෙනවා. ධර්ම ශ්‍රවණය ලැබෙනවා. සෝවාන් වීම පිණිස මූලික පසුබිම ලැබෙනවානෙ. ඊළඟට දැන් තිසරණය පිළිබඳවනේ හොඳට, ඊළඟට මේ පින් පව් කුසල් අකුසල් ගැන විස්තර කරනකොටනෙ අපිට දුශ්ශීල වීමේ ආදීනව, සතර අපා බය ඇතිවෙන්නෙ. ඒකත් එක්කනෙ සීලය එන්නෙ. එතකොට සෝවාන් කෙනෙකුගේ සෝතාපත්ති අංග පිළිබඳව පසුබිම පරිසරය හැදෙනවා. ඒ නිසා සත්පුරුෂයන්ම ඇසුරු කරන්න, ශ්‍රී සද්ධර්මයම ශ්‍රවණය කරන්න. අද අපි බුදුරජාණන් වහන්සේගේ මහා පුරිසඉන්ද්‍රිය ඥාණය ඉගෙන ගන්නේ. මේකෙනුත් බුදුරජාණන් වහන්සේගේ ඥාණයට පැහැදීමත් ඇතිවෙනවා, සසර ගමන ගැන භයත් හිතෙනවා. අපි බලමු ඒ ඥාණය. බුදුරජාණන් වහන්සේ වදාළා දැන් මේ දේශනාව පින්වතුනි සිද්ධ වුනේ බුදුරජාණන් වහන්සේ මේ පුරිසඉන්ද්‍රිය ඥාණ සූත්‍රය තියෙන්නෙ අංගුත්තර නිකාය හතරේ පුරිසඉන්ද්‍රිය ඥාණ සූත්‍රය. භාග්‍යවතුන් වහන්සේ කොසොල් රාජ්‍යයයේ භික්ෂු සංඝයා සමඟ චාරිකාවේ වඩිනකොට දණ්ඩකප්ප කියන කෝසලවාසීන්ගේ නියම්ගමට වැඩම කලා, මහා භික්ෂු සංඝයා සමඟ. එකල්හි බුදුරජාණන් වහන්සේ මාර්ගයෙන් ඉවත් වෙලා එක්තරා රුක් සෙවණක පණවන ලද අසුනේ වැඩ සිටියා. ඉතින් භික්ෂූන් වහන්සේලාද වැඩ ඉන්න තැනක් හොයන්න දණ්ඩකප්ප

නියම්ගමේ පොඩ්ඩක් එහෙමෙහෙ ඇවිද්දා. ආනන්ද ස්වාමීන් වහන්සේ ඒ අතරේ, එතනින් අචිරවතී නදිය ගලාගෙන යනවා. කෝසල ජනපදය මැදින් තමයි අචිරවතී නදිය ගලාගෙන යන්නෙ. ජම්බුද්වීපයේ ගිය කෙනෙකුට, සැවැත් නුවරට ගිය කෙනෙකුට, සැවැත් නුවර අංගුලිමාල සෑය, අනේපිඩු සිටුතුමාගේ ගෙදර කියලා මිනිස්සු බලන්න යන ශුද්ධභූමි තියෙනවා. ඒ භූමි වලට ගියාම එහාපැත්තෙ පේනවා අචිරවතී නදිය. විශේෂයෙන් අනේපිඩු සිටු මාළිගාවෙ ඒ ගොඩනැගිල්ල මුදුනට නැංග ගමන් එහාපැත්තෙ පොඩි දියපාරක් එක්ක පුංචි නදියක් පේනවා. ඒක අචිරවතී නදිය. එතකොට අචිරවතී නදිය කෝසල ජනපදය හරහා යනවා. ඉතින් ආනන්ද ස්වාමීන් වහන්සේ සංඝයාත් එක්ක අචිරවතී නදියේ පැන් පහසු වෙන්න වැඩියා. පැන් පහසු වෙලා ගොඩට ඇවිල්ලා ඇඟේ වතුර වේලෙනකල් අඳනය පිටින් උන්වහන්සේ වැඩ හිටියා. එතකොට එක්තරා භික්ෂුවක්, මගේ හිතේ මේ භික්ෂුව දේවදත්තගේ හිතවත් භික්ෂුවක්. එක්තරා භික්ෂුවක් ආනන්ද ස්වාමීන් වහන්සේ ළඟට ඇවිල්ලා අහනවා ආයුෂ්මත් ආනන්දයෙනි, භාග්‍යවතුන් වහන්සේ සියල්ලම සමසිතින් හොඳින් විමසා බලාද, දේවදත්තයන් අරඹයා මේ වගේ ප්‍රකාශයක් කලේ? අහනවා, බුදුරජාණන් වහන්සේ හොඳටම සර්ව සම්පූර්ණයෙන් බලලද ඔය දේවදත්ත ගැන මෙහෙම කිව්වෙ. ඒ කියන්නෙ දේවදත්ත කියන්නෙ අපායෙ යන කෙනෙක්, නිරයේ යන කෙනෙක්, කල්පයක් අපායේ වැටිලා ඉන්නවා. දැන්නම් කිසිම පිළියමක් නෑ කියලා ඒ වාගේ බරපතල ප්‍රකාශයක් කලේ හොඳටම හොයලද ඔය? එහෙම නැත්නම් අනුමාන කරලද, මෙයා කරන පව් වලට අනුව මෙහෙම වෙයි කියලා අනුමාන කරලද ඔහොම ප්‍රකාශයක් කලේ හොඳටම දැනගෙන ද? ආනන්ද ස්වාමීන් වහන්සේ වදාළා ආයුෂ්මතුනි භාග්‍යවතුන් වහන්සේ යමක් දේශනා කළොත් ඒක එහෙම්මම තමයි. දැන් බලන්න ඒ සෝතාපන්න වූ ධර්මධර ආනන්ද ස්වාමීන් වහන්සේගේ ප්‍රකාශය. වැඩි කතාබහා නෑනෙ. දැන් අද කාලෙ වුනා නම් ලොකු විස්තරයක් දෙයිනෙ. ඔහේ මොනවද දන්නෙ? භාග්‍යවතුන් වහන්සේ ගැන ඔහේ දන්නවද? දේවදත්ත ගැන ඔහේ දන්නවද කියලා ලොකු කතාවක් දෙයිනෙ. එහෙම නෑ. ආනන්ද ස්වාමීන් වහන්සේ වදාළා භාග්‍යවතුන් වහන්සේ යමක් දේශනා කලා නම් ඒක එහෙම්මම තමයි. ඊටපස්සෙ එතනින් ඒ කතාව අඩාල වුනා. ආනන්ද ස්වාමීන් වහන්සේ ශරීරය වේලගෙන පැන් පහසු වෙලා ඉතින් ඇඟ වේලගෙන සිවුරු පොරවගෙන විවේකයෙන් භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්න තැනට වැඩියා. භාග්‍යවතුන් වහන්සේට වන්දනා කරලා බුදුරජාණන් වහන්සේට ඒ සිද්ධිය

කිව්වා. ස්වාමීනී මං මේ පැන් පහසු වෙලා ඉන්නකොට මෙන්න මේ භික්ෂුවක් ඇවිල්ලා මෙහෙම කිව්වා, ඒ තමයි භාග්‍යවතුන් වහන්සේ හොඳටම සියල්ලෙන් සියල්ල, සියලු ආකාරයෙන් දැනගෙනද ප්‍රකාශයක් කලේ දේවදත්ත ගැන ප්‍රකාශයක් කලේ අපායේ යනවා, කල්පයක් වැටෙනවා, පිළියමක් නෑ කියලා. එහෙම නැත්නම් අනුමාන කරලාද කියලා මගෙන් ඇහුවා. ඉතින් මම කිව්වා භාග්‍යවතුන් වහන්සේ වදාළ යමක් තිබ්බොත් ඒක එහෙම්මම තමයි කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ දේශනා කලා ආනන්දයනි, ඒ භික්ෂුව එක්කෝ අලුතෙන් මහණ වෙච්චි කෙනෙක්. එහෙම නැත්නම් පැවිදි වෙලා ස්ථවිර කෙනෙක් වුනත් හරි අව්‍යක්ත, මෝඩ උන්නාන්සේ නමක් ඔය. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ආනන්දයනි, මං මගේ හිතෙන් යම්කිසි පුද්ගලයෙක් ගැන සියල්ලම සියලු ආකාරයෙන් නුවණින් විමසා විමසා යම් කෙනෙක් දිහා වැඩිපුරම බලලා තියෙනවා නම් දේවදත්ත තරම් තවත් කෙනෙක් දිහා බලලා නෑ කිව්වා. බුදුරජාණන් වහන්සේ බේරාගන්න වැඩිපුරම මේ තුන්ලෝකෙන්ම කෙනෙක් දිහා වැඩිපුරම බලලා තියෙන්නෙ දේවදත්ත දිහා. ආනන්ද, මම දේවදත්තගේ අස්ලෝමයක අග තැවරුනු දෙයක් විතරවත් කුසල ධර්මයක් තිබ්බා නම්, අශ්වලෝමයක අග තැවරුණු තරමකවත් කුසලයක් තිබ්බා නම් ඒ තාක් මම දේවදත්ත අපායෙ යන කෙනෙක් කියලා කිව්වෙ නෑ. ඒ කියන්නෙ බලන්න මනුස්සයෙකුට බේරෙන්න පුලුවන් අශ්ව ලෝමයක අග තැවරුන තැනකවත් කුසලයක් වගේ පුංචි කුසලයක් තිබ්බත් මනුස්සයෙකුට බේරෙන්න අවස්ථාවක් තියෙනවා. බුදුරජාණන් වහන්සේ දේශනා කලා එච්චරවත් කුසලයක් මම දැක්කා නම් දේවදත්ත ගැන, එතෙක් මං කිව්වෙ නෑ දේවදත්ත අපායෙ යනවා කල්පයක් වැටෙනවා කියලා. හැබැයි ආනන්ද මම දැක්කා පස්සෙ කාලෙ අශ්වලෝමයක අග තැවරුනු දෙයක් තරම්වත් කුසලයක් නෑ දේවදත්තගේ. අන්න එදා තමයි මං ප්‍රකාශයක් කලේ දේවදත්ත අපායෙ උපදිනවා, නිරයේ උපදිනවා. කල්පයක් නිරයේ වැටෙනවා පිළියම් නෑ කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කලේ ඊටපස්සෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ආනන්දයනි, මේක මං උපමාවකින් කියන්නම් කිව්වා. ආනන්දයනි, ඔන්න මනුස්සයෙක් අශූචි වලක වැටිලා ඉන්නවා. එයාගේ මුව, කට මට්ටමට අශූචි වලේ ගිලිලා. ඊටපස්සෙ හිසත් එක්කම ගිලිලා. ඉතින් පුරුෂයෙක් ඉන්නවා, ඔහුගේ යහපත කැමැති, හිත කැමැති. එයාට දුකක් වෙනවට කැමැති නැති එක්කෙනෙක් ඉන්නවා. එයා අර අශූචි වලේ වටේට ඇවිද ඇවිද හොයනවා අනේ මේ ගිලිච්ච එකාගෙ ලොම්

ගහක් තියෙනවා නම් අශුචි ගැව්ච්චි නැති ඇදලා ගන්න. අශුචි ගැව්ච්චි නැති තැනක් තියෙනවා නම් ලොම් ගහක හරි ඒ තැනින් මෙයාව ඇදලා ගන්න ඕන කියලා වටේට ඇවිද ඇවිද බලනවා. අනේ එක ලොම් ගහක් නෑ මේ මනුස්සයාගෙ අශුචි ගැව්ච්චි නැති. ඉතින් ඒ නිසා අර ගොඩගන්න උත්සාහ කරන එක්කෙනාට කරගන්න දෙයක් නෑ. ආනන්දයනි ආන්න ඒ වගේ තමයි මං නුවණින් විමසා විමසා බැලුවා මේ දේවදත්ත ගැන. ලොම් ගහක අග තැවරෙන ප්‍රමාණයක් තරමකවත් කුසලයක් නැනෙ දේවදත්තගෙ. අන්න ඒ නිසා තමයි දේවදත්ත කල්පයක් නිරයේ වැටෙනවා, විසඳුමක් නෑ කියලා මං ප්‍රකාශයක් කලේ. එතකොට බුදුරජාණන් වහන්සේ යම් ප්‍රකාශයක් කරනකොට ඒ භාග්‍යවතුන් වහන්සේගේ ප්‍රකාශයේ තියෙන සර්වසම්පූර්ණ බව බලන්නකො. දැන් මේකෙන් තේරෙනවා නේද බුදුරජාණන් වහන්සේ දැන් ගොඩාක් අය බුදුන් දකින්න ලැබේවා, බුදුන් ළඟ ඉන්න ලැබේවා, බුද්ධ කාලයේ ඉපදෙන්න ලැබේවා කියලා ප්‍රාර්ථනා කරනවා. දැන් දේවදත්තත් බුද්ධ කාලෙන ඉපදුනේ. බුදුන් ළඟනෙ හිටියෙ. බුදුබණ ඇහුවානෙ. තමාට සුදුසුකම් ඕන. ඒ නිසා බුදු කෙනෙක් ළඟ ඉන්න පමණින් සියලු ප්‍රශ්න විසඳෙන් නෑ පින්වත්නි. ඒ නිසා හොඳට කුසල් උපදවාගෙන තියෙන්න ඕන. ඒ වගේම සසර දුකින් නිදහස් වෙන බලවත් කැමැත්ත ඕන. නුවණ ඕන. සත්පුරුෂ ඇසුර, සංසාර දුකින් නිදහස් වීමේ අගය හිතේ පිහිටලා තියෙන්න ඕන. ඊටපස්සෙ ඉතින් බුදුරජාණන් වහන්සේ මේ විස්තරය දේශනා කරලා ආනන්ද ස්වාමීන් වහන්සේට කියනවා, ආනන්දයනි, ඔබ කැමැති ද තථාගතයන් වහන්සේගේ පුරුෂ ඉන්ද්‍රිය ඥාණය විග්‍රහකොට පැවසුවොත් අහන්න කැමැති ද? ආනන්ද ස්වාමීන් වහන්සේ පස්වනක් ප්‍රීතියෙන් පිනා ගියා. සුගතයන් වහන්ස දේශනා කරන්න කාලයයි. භාග්‍යවතුන් වහන්ස දේශනා කරන්න කාලයයි, භාග්‍යවතුන් වහන්සේගේ පුරුෂ ඉන්ද්‍රිය ඥාණය බෙදා දක්වා, දක්වා පෙන්වන්න කාලයයි. අපි ඒ ධර්මය ශ්‍රවණය කරලා මතක තියාගන්නම්, කියලා ආරාධනා කලා. එහෙනම් ආනන්ද අහන්න. නුවණින් මෙනෙහි කරන්න. ආනන්ද, බුදුරජාණන් වහන්සේ වදාළා ආනන්දයෙනි, මෙහිලා ඇතැම් පුද්ගලයෙකු පිළිබඳව මෙසේ මා විසින් ඔහු සිත පිරිසිඳ මම දන්නවා. එහෙනම් මේ පුද්ගලයා තුල කුසල් දහම්, අකුසල් දහම් දෙකම දකින්න ලැබෙනවා. ඔන්න එක්කෙනෙක් දිහා. දැන් ඔබ දිහා බලන්න. කුසලුත් තියෙනවා, අකුසලුත් තියෙනවා. ඔන්න හොඳ නරක දෙකම තියෙනවා. ඊටපස්සෙ පසුකාලෙක ඔහු පිළිබඳව, දැන් ඔන්න බුදුරජාණන් වහන්සේ කියනවා කුසල් අකුසල් දෙකම මෙයා තුළ තියෙනවා. පස්සෙ කාලෙක

බුදුරජාණන් වහන්සේ ඔහු දිහා බලනවා, බලනකොට බුදුරජාණන් වහන්සේ දකිනවා මේ පුද්ගලයා ළඟ තිබ්බ කුසල් දහම් ඔක්කෝම නැතිවෙලා ගිහිල්ලා මේන්න අකුසල් දහම් පෙරට ඇවිල්ලා. දැන් තනිකර පව් කරන්නෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඒ වුනාට දකිනවා මෙයත් දැන් පව් කර කර හිටියාට, ඔහුගේ කුසල මූලයන් නොනැසී ඇත්තේය. කුසල් නැසිලා නෑ, තවම තියෙනවා ඇතුළෙ. මොනවද කුසල් මුල්? අලෝභ, අද්වේෂ, අමෝහ. මේවා තියෙනවා. හැබැයි ඉන්නෙ පව් කර කර. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දකිනවා පස්සෙ කාලෙක ඔහුගේ අර කුසල් මූල ආයෙ ඉස්මතු වෙනවා. ඉස්මතු වෙලා මේ කෙනා නොපිරිහෙන කෙනෙක්, දියුණු වෙන කෙනෙක් බවට ආපහු පත්වෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඒකට ඔන්න උපමාවක් වදාළා, ආනන්දයෙනි යම්බඳු කෙනෙක් නොකැඩුණු, ඊළඟට හුනු නොවූ, අව්සුළඟින් විනාශ නොවුනු, සාරය ඇති, සුව සේ රැස් කල බීජයෝ හොඳ කුඹුරක හොඳින් පිරියම් කළ බිමක වපුරන්නේ නම් කිම ආනන්දයෙනි මේ බීජයෝ වැඩීමට, අභිවෘද්ධියට, විපුල බවට පත්වන්නාහුද? එසේය ස්වාමීනී. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ආනන්ද, හොඳ බීජයක් තියෙනවා, ඒ බීජය නරක් වෙලා නෑ, ඒ බීජයට ගුල්ලො ගහලා නෑ මොකුත් නෑ, හොඳම බීජයක්. ඒ හොඳම බීජයක් හොඳ පොහොර පරිසරය, හොඳ පොහොර තියෙන භූමියකට වැටුනොත් ඒ භූමියේ රෝපණය කළොත් පැළවෙනවාද නැද්ද? අනේ පැළවෙනවා භාග්‍යවතුන් වහන්ස. ආන්න ඒ වගේ තමයි පින්වත් ආනන්ද මම දකිනවා මේ සත්ත්වයාගේ කුසල් අකුසල් දෙකම තියෙනවා. පස්සෙ කාලෙ බලනකොට මෙයා අකුසල් කර කර ඉන්නෙ, අකුසල් ගොඩට ඇවිල්ලා. හැබැයි ඇතුලේ කුසල් මුල් තියෙනවා. ඊටපස්සෙ මොකද වෙන්නෙ? පස්සෙ කාලෙක මෙයා ආපහු අර අකුසල් ටික යට යවලා කුසල් ටික ඉස්මතු වෙලා නොපිරිහුනු ස්වභාවයට පත්වෙනවා. දැන් අපි ගත්තොත් එහෙම, දැන් මේක දකින්නෙ බුදුරජාණන් වහන්සේ පුරුෂ ඉන්ද්‍රිය ඥාණයෙන්. ඔබ දිහා බලන්න. ඔබ උපතින් එනකොට, උපතින් කියන්නෙ පුංචි කාලෙ ඔබගේ කුසල් අකුසල් දෙකම තිබ්බානෙ. පස්සෙ තරුණ වෙනකොට සමහර අයගේ කුසල් කතාවක්, පින් කතාවක් මොකුත් නෑ, ඔන්න පව් වැඩ ටිකටම සම්බන්ධ වුනා. ඇයි යාළුවො ටික සෙට්වුනානෙ. එහෙම ඉන්නකොට ඔන්න ආයෙ සත්පුරුෂ ඇසුර ලැබුනා, ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය ලැබුනා. අර ඔක්කෝම අතඇරලා ආයෙ ධර්මය ඇල්ලුවානෙ. බුදුරජාණන් වහන්සේ තත්පරේට මේ ඔක්කෝම දකිනවා. ඒක බුදුරජාණන් වහන්සේගේ පුරුෂ ඉන්ද්‍රිය ඥාණය. දැන්

මම උදාහරණයක් කිව්වොත් කත්තිසාරිපුත්ත. ඔන්න එයත් කුසල් අකුසල් කර කර හිටපු කෙනෙක්. ඊටපස්සෙ මෙයාටත් ධර්මය ඇහිලා මෙයා මහණ වුනා. ඊටපස්සෙ මහණ වෙලා මෙයා මොකද වුනේ, මෙයා පස්සෙ කාලෙක සිවුරු හැරියා. ඔන්න අකුසල් ඉස්මතු වුනා. ඊටපස්සෙ සිවුරු ඇරලා ටික කාලයක් ගියාට පස්සෙ ආයෙ කාමයේ ආදීනව සිහිවෙනවා. ඊටපස්සෙ ආයෙ පැවිදි වුනා, අර්හත්වයට පත්වුනා. ඉතින් ඒ වගේ අර පින් පව් දෙකම, කුසල් අකුසල් දෙකම තියෙනවා මුල් කාලෙ. එකපාරම අකුසල් වැඩිවෙනවා. ඊටපස්සෙ නමුත් සත්පුරුෂ ඇසුර, ශ්‍රී සද්ධර්ම ශ්‍රවණය නිසා ආයෙ ඒ මනුස්සයා හොඳ මනුස්සයෙක් වෙනවා, පිරිහෙන් නෑ. මේක දකින ඥාණය, මහා පුරුෂ ඉන්ද්‍රිය ඥාණය. ඊළඟට දැන් කෙනෙක් හොඳට ඉන්නකොට අනේ මෙයා නම් හොඳ කෙනෙක්. මැරෙනකම්ම චරිත සහතිකේ ගැහුවා. ඊටපස්සෙ පස්සෙ කාලෙ එයා නොසණ්ඩාල වැඩ කරනවා. ඊටපස්සෙ කෙනෙක් නරකට ඉන්නවා. ඊටපස්සෙ පරම්පරාවටම සීල් එකක් ගැහුවා, මුන් නම් හොඳ නෑ කියලා. නමුත් ඒ කට්ටිය පස්සෙ ගමේම හොඳ මිනිස්සු වෙනවා. සාමාන්‍ය මිනිස්සු පුංචි දේකින් අර ඔක්කෝටම ප්‍රමාණ කිරීමක් කරනවා. නමුත් භාග්‍යවතුන් වහන්සේ දකිනවා කුසල් අකුසල් තියෙන හැටි, පස්සෙ කුසල් අකුසල් මොනවද වෙන්නෙ? හැබැයි මතක තියාගන්න මනුස්සයෙකුට වෙනස් වෙන්න වුනත් ඇතුලේ කුසල් මුල් තියෙන්න ඕන. මට මතකයි මම දැක්කා දවසක් මට හිතෙන විදියට නීලගිරි ධාතූන් වහන්සේලා වඩම්මනකොට පොල්ගහවෙල ඉඳලා සේරුවිලට, ඒ එක දවසක මම ඒ ධාතූන් වහන්සේලා වඩම්මන වාහනේ මමත් වැඩියා. එතකොට මම දැක්කා කොල්ලො ටිකක්. බෝක්කුවක් උඩ. ආච්චි අම්මලා පාර දිගට ඉඳලා මල් දානවා, ඒවා කරනවා. කොල්ලො ටිකක්, අවුරුදු දහඅටේ, විස්සෙ පොඩ්ඩන් ටිකක්. බෝක්කුවක් උඩ සින්දු කිය කියා නට නටා කෑ ගගහ ඉතින් කොල්ලො ඉන්නවා. ඉතින් එතනින් අර ධාතූන් වහන්සේලා වඩම්මගත්තු වාහනේ යනවා. ඒ කොල්ලො ටික අතරින් එක කොල්ලෙක් එකපාරම ධාතූන් වහන්සේලා රැගත් වාහනේ දැක්ක ගමන්ම අර අත්පුඩි ගහන සින්දු කියන එක නතර කරලා කෙලින් හිටගෙන වැඳගෙන බලාගෙන හිටියා. එතකොට ඒ වෙලාවෙ මම නිකමට යන ගමන් හිතුවා, බලන්න අර පිරිසක් අතරේ හිටියාට ඇතුලේ කුසල් තියෙනවා. නෙක්ඛම්ම ධාතුව තියෙනවා. පුණ්‍ය කරන ස්වභාවය අභ්‍යන්තරයේ තියෙනවා. නමුත් පරිසරය හැදිච්චි නැති නිසා ඒවා උඩට එන් නෑ. පරිසරය හැදිලා තියෙන්නෙ කොල්ලොත් එක්ක ඉන්න, සින්දු කියන්න, රවුම් ගහන්න. දැක්කද ඒ ඇසුර කියන එක.

ඉතින් ඒක මම අමතර කාරණාවක් කිව්වෙ. ඔන්න නමුත් තේරුම්ගන්න පළවෙනි කාරණාව, බුදුරජාණන් වහන්සේ වදාළා ආනන්දයෙනි, තථාගතයන් වහන්සේ පුරිස ඉන්ද්‍රිය ඥාණය, තථාගතයන් වහන්සේ විසින් පුරිස ඉන්ද්‍රිය ඥාණය සිය සිතින් පිරිසිඳ දක්නා ලද්දේ වෙයි. එසේත් ආනන්දයෙනි තථාගතයන් වහන්සේ විසින් අනාගතේ ඔවුන් තුළ හටගන්නා දේ ගැන සිය සිතින් පිරිසිඳ දන්නා සේක. එතකොට බුදුරජාණන් වහන්සේ මුලු ජීවිත කාලෙම විටින් විට ඔහොම බල බලා ඉන්නවා නෙවෙයි. බලනකොට තත්පරේටම පේනවා. තත්පරේටම පේනවා. මෙයා දැන් කුසල් අකුසල් තියෙනවා. පස්සෙ කාලෙක මෙයාගේ මොකද වෙන්නෙ? කුසල් නැතිවෙලා අකුසල්ම ඉස්මතු වෙනවා. ඒ වුනාට ඇතුලෙ කුසල් මුල් තියෙන නිසා ඒකට අදාළ පරිසරය හැදිච්චි ගමන්ම මෙයා ආපහු කුසලයටම එනවා අකුසල් නැති වෙලා ගිහිල්ලා, පිරිහෙන් නැති කෙනෙක් බවට පත්වෙනවා කියලා ඔහු දකිනකොටම බුදුරජාණන් වහන්සේට එයාගේ ජීවිතේ සම්පූර්ණයෙන්ම වැටහෙනවා. මොකක්ද ඒ ඥාණය? පුරුෂ ඉන්ද්‍රිය ඥාණය. එතකොට ඔය පළවෙනි එක්කෙනා. පළවෙනි එක්කෙනා කුසල් අකුසල් දෙකම තියෙනවා. පස්සේ කාලෙක කුසල් නැතිවෙලා ගිහිල්ලා අකුසල්මයි වෙන්නේ. නමුත් එයාගේ ඇතුලේ කුසල් මුල් තියෙනවා. අලෝභ අද්වේෂ, අමෝහ, ඊටපස්සෙ මොකද වෙන්නේ, කුසල් මුල් තියෙන නිසා පස්සෙ කාලෙ එයා අකුසල් ප්‍රහාණය කරලා කුසල් උපද්දවලා පිරිහෙන් නැති කෙනෙක් බවට පත්වෙනවා. බීජය හොදට තිබ්බට පස්සෙ හොඳ පරිසරයකට වැටච්චි ගමන් පැළවෙනවා. ඒ නිසා ඔයාලගේ දරුවො ඉන්නවා නම් ස්වාමියා, බිරිඳ, ඥාතීන් ධර්මානුකූල නොවන, ඒ අයට කරන්න තියෙන්නෙ හොඳ පරිසරයක් හදන්න ඕන ධර්මය ඇහෙන්න. සත්පුරුෂ ඇසුර, ශ්‍රී සද්ධර්මය ඇහෙන පරිසරයක් හැදුවා නම් ඒ මිනිස්සු කොච්චර නරක වුනත් ඇතුලේ කුසල් මුල් තිබ්බොත් උඩට එනවා. එතකොට කුසල් මුල් නැති කෙනාට ඔහොම නෙවෙයි, ධර්මය අරන් ඔළුව හාරලා වැක්කෙරුවත් එයාට ඒක පිහිටන් නෑ. ඒක තමයි ඇතුලේ කුසල් මුල් තියෙන්න ඕන. ඔය පළවෙනි එක්කෙනා. දෙවෙනි එක්කෙනා, ආනන්ද මං කෙනෙක්ගේ හිත බලනවා. එතකොට මට පේනවා එයාට කුසලුත් තියෙනවා, අකුසලුත් තියෙනවා. හැබැයි පස්සෙ කාලකෙ අකුසල් නැතිවෙලා කුසල් පෙරට ඇවිල්ලා මේන් හම්මේ මෙයා කුසල් කරනවා, පින් කරනවා, සිල් ගන්නවා, බණ අහනවා, මෙයා දැන් හොඳ කෙනෙක්. හැබැයි අකුසල් මූලයන් නැසී නෑ. ඇතුලේ අකුසල් මූල තියෙනවා. ලෝභ, ද්වේෂ, මෝහ ඇතුලේ තියෙනවා. ඕන්න පස්සේ කාලෙ

පරිසරය හැදෙනවා. හැදිච්ච ගමන් ඔක්කෝම ඉස්සරහට එනවා. පිරිහෙනවා. ඉස්සර ඔය අම්මලා ඇවිල්ලා කියන්නේ, ස්වාමීනී, ඉස්සර හොඳට හිටියා අපේ පුතා, පුංචි කාලෙ ළමා වැඩසටහනට ආවා. හැම බණක්ම අහනවා. ජාතක කතා ඔක්කෝම කියෙව්වා. පුදුම විදියට බණ ඇහුවේ. අනේ ස්වාමීනී, මෙයා ඕලෙවල්, ඒලෙවල් ලිව්වා විතරයි මේකාගෙ ගන්න දෙයක් නෑ. ඇයි ඒ කලින් කුසල් අකුසල් තිබ්බා දෙකම. ඊටපස්සෙ කුසල් පෙරට ඇවිල්ලා හොඳට හිටියා, අකුසල් නෑ, හැබැයි ඇතුලේ තිබ්බා අකුසල මූල. තිබ්බ නිසා මොකද වුනේ. මෙයා ආපහු පිරිහුනා. දැක්කද දැන් මේකෙ ප්‍රශ්නෙ තියෙන්නෙ, අපිට කුසල් මුලුත් තියෙනවා, අකුසල් මුලුත් තියෙනවා. පරිසරය හැදිච්චි පැත්තට යනවා. ඉතින් බුදුරජාණන් වහන්සේට ඒ වුනාට එයා දැක්ක ගමන් තේරෙනවා මෙයාගේ කුසල් අකුසල් මුල් දෙකම තියෙනවා, පස්සෙ කාලෙක මෙයා මොකද කරන්නෙ අකුසල් ඔක්කොම යට කරගෙන කුසලයම ඉස්සරහට ගන්නවා. ඒ වුනාට අකුසල් මුල් නැසී නැති නිසා මෙයා අවසානෙට වෙන්නෙ ආපහු අකුසලයටම ගිහිල්ලා මෙයා පිරිහිලා යනවා කියලා දකිනවා. බුදුරජාණන් වහන්සේ දකිනවා මේ වගේ. බීජයක් තියෙනවා. හැබැයි බීජය දානවා ගල් පතුරක් උඩට. බීජය ගල් පතුරක් උඩට දැම්මට බීජය වැඩෙන් නෑ. ආන්න ඒ වගේ තමයි අකුසල් මුල් තිබීම. අකුසලය තිබීම, එයා පිරිහිලා යනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, ඔන්න ඒකට උදාහරණයක් ගත්තොත් එහෙම අපි, සුනක්කත්ත. බුදුරජාණන් වහන්සේට උපස්ථාන කරපු කෙනෙක්නෙ. එයා ගිහි ජීවිතේ වාසය කරනවා කියන්නෙ කුසල් අකුසල් දෙකම තියෙනවා. පස්සෙ කාලෙක එයා පැවිදි වුනා. සුනක්කත්ත ලිච්ඡවී රජ කෙනෙක්ගේ පුත්‍රයෙක්. ඊටපස්සෙ මෙයා මහණ වෙලා බුදුරජාණන් වහන්සේට උපස්ථානත් කලා. මේන් පස්සෙ බුදුරජාණන් වහන්සේටත් ගරහලා බැනලා සිවුරු ඇරලා ගියා. එතකොට කලින් කුසල් අකුසල් දෙකම තිබ්බා, පස්සෙ බුදු කෙනෙක් ළඟ ඉන්න තරම් කුසලය ආවා, පින ආවා. පස්සේ ඔක්කෝම නසාගෙන පිරිහිලා ගියා. ඇයි ඒ? ඇතුලේ අකුසල් මුල් තිබ්බා. කොච්චර භයානකද සංසාරේ කියලා බලන්න. බීජයක් ගල් පතුරකට දැම්මට පස්සෙ වැඩෙන් නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා ඉතින් ආනන්ද ඔන්න ඔය විදියට තමයි පුද්ගලයෙක්ගේ සිත මම මගේ හිතින් එයාගෙ හිත බලන්නෙ. ආනන්ද, තථාගතයන් වහන්සේ විසින් පුරුෂ ඉන්ද්‍රිය ඥාණය මුල් කරගෙන සිය සිතින් පිරිසඳ දක්නා ලද්දේ වෙයි. මෙසේ ආනන්ද, තථාගතයන් වහන්සේ විසින් අනාගතයේ ඔවුන් තුල හටගන්නා දේ ගැන සිය

සිතින් පිරිසිඳ දක්නා ලද්දේ වෙයි. බුදුරජාණන් වහන්සේට අනාගතයේ මොකක්ද මෙයාට වෙන්නේ කියලා ඔක්කෝම වැටහෙනවා. ඒක මහා පුරුෂ ඉන්ද්‍රිය ඥාණය. ඊළඟට අපි තුන්වෙනි පුද්ගලයා බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා. පින්වත් ආනන්ද, ඔන්න කෙනෙක් තුළ කුසල් අකුසල් දෙකම තියෙනවා. එතකොට ආනන්ද මෙයාගේ පස්සෙ කාලෙ මොකද වෙන්නේ අශවලෝමයක අග තැවරෙන තරම්වත් කුසල් මාත්‍රයක් නැති තරමටම පිරිහෙනවා. එතකොට කළු කර්ම රැස් කරගෙන, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මේ පුද්ගල තෙමේ ඒකාන්තයෙන් කළු පැහැ ගත් අකුසල කර්මයන්නේ සමන්විත වූයේ කය බිඳී මරණින් මතු අපාය නම් වූ දුගතිය නම් වූ විනිපාත නම් වූ නිරයේ උපදින්නේය. බුදුරජාණන් වහන්සේ වදාළා මෙයා නිරයටමයි යන්නේ. මුලින් කුසල් අකුසල් දෙකම තිබ්බා. පස්සෙ කාලෙක අකුසල්ම වැඩිවෙනවා, කුසල් මාත්‍රයක් නෑ, අශ්වලෝමයක කෙළවර තරම්වත්. ඉතින් මෙයා මොකද වෙන්නේ, ඒකෙන්ම විනාශවෙලා, පිරිහිලා අපායෙ යනවා, කුණුවෙච්චි බීජයක් හොඳ කුඹුරක දැම්මට පස්සෙ වැඩෙනවද? කියලා ඇහුවා. කොහොමටවත් වැඩෙන් නෑ. කොච්චර සරුසාර වුනත් කුඹුර වැඩෙන් නෑ. බීජය කුණුවෙලා. කවුරු වගේද? දේවදත්ත වගේ. දේවදත්තට කුසල් මාත්‍රයක් නෑ. එහෙනම් මේ අපායෙ යන්නෙ මොන වගේ චරිත ද? කුසල් මාත්‍රයක් නෑ. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ මේ විදියට දේශනා කලා, දේශනා කරනකොට ආනන්ද ස්වාමීන් වහන්සේ අහනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මේ පුද්ගලයන් තිදෙනා හා සැසඳෙන්නා වූ වෙනත් පුද්ගලයන් තිදෙනෙකු පැනවිය හැකි ද? ස්වාමීනී, දැන් තුන්දෙනෙක් ගැනයි බුදුරජාණන් වහන්සේ වදාළේ. ඒ තුන් දෙනා ගැන ආයෙ කෙටියෙන් සිහි කරමු. එක්කෙනෙක්. කුසල් අකුසල් දෙකම තියනෙවා. දැන් ඔක්කෝටම කුසල් අකුසල් මුලින්ම තියෙනවා පින්වතුනි. කුසල් අකුසල් මුලින්ම තියෙනවා. ඊටපස්සෙ පස්සෙ වෙන්නෙ මොකද, මෙයාගෙ කුසල් ඔක්කෝම නැතිවෙලා ගිහිල්ලා අකුසලයේම ඉන්නවා. හැබැයි මෙයාගෙ කුසල් මුල් නැතිවෙලා නෑ, අභ්‍යන්තරයේ. ඒ නිසා පස්සෙ කාලෙක සත්පුරුෂ ඇසුර, කල්‍යාණමිත්‍ර සේවනය, ශ්‍රී සද්ධර්ම ශ්‍රවණය මුල් කරගෙන හොඳට ආපහු කුසල් වැඩෙනවා. මෙයා පිරිහෙන් නෑ. බීජයක් කුඹුරක, හොඳ බීජයක් කුඹුරක වැපිරුවට පස්සෙ පැළවෙනවා වැඩෙනවා කියලා යමක් ඇත්ද, මෙයා වැඩෙනවා ශාසනය තුළ. නැත්නම් කුසල් තුළ වැඩෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ දෙවෙනි එක්කෙනා වදාළා, කුසල් අකුසල් දෙකම තියෙනවා. ඊටපස්සෙ පස්සෙ කාලෙ

අකුසල් නැතිවෙලා ගිහිල්ලා කුසල් කරනවා. හොඳ කෙනෙක්. නමුත් ඇතුලේ අකුසල් මුල් තියෙනවා. ඒ නිසා ඒවා ඉස්මතු වෙලා පිරිහිලාම යනවා. එයාව ඊටපස්සෙ බේරගන්න අමාරුයි. හරියට බීජයක් ගලක් උඩට දැම්මට පස්සෙ වැඩෙන් නෑ, එයාගේ ඇතුල වැඩෙන් නෑ, යහපත් වෙන් නෑ, හොඳ කෙනෙක් වෙන් නෑ එයා. ඊටපස්සෙ තව එක්කෙනෙක් ඉන්නවා, කුසල් අකුසල් දෙකම තියෙනවා. පස්සේ කාලෙ මෙයාගෙ අකුසල් ඉස්මතු වෙලා අශ්වලෝමයක අග තැවරුනු තරම් වත් කුසල් මුල් නෑ, ඉතින් එයා මැරුනට පස්සෙ නිරයේම උපදිනවා, දේවදත්ත වගේ. ඊටපස්සෙ ආනන්ද ස්වාමීන් වහන්සේ ඇහුවා ඔය වාගේ තුන්දෙනෙක්, ඔය තුන්දෙනාටම සමාන තව තුන් දෙනෙක් පනවන්න පුලුවන්ද? දැන් ආනන්ද ස්වාමීන් වහන්සේට හිතෙනවා මෙහෙම ක්‍රමයක් තව කියන්න පුලුවන් කියලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා පුලුවන් ආනන්ද කියලා. එහෙනම් ආනන්ද ඒකත් තේරුම් ගන්න මේ විදියට. ඔන්න ආනන්ද තව කෙනෙක් ඉන්නවා කුසල් අකුසල් දෙකම තියෙනවා. හැබැයි ආනන්ද පස්සෙ කාලෙක මෙයාගේ කුසල් නැතිවෙලා ගිහිල්ලා අකුසල් පෙරට ඇවිල්ලා, දැන් අපි අර කලින් කතා කරපු තුන්දෙනාගේ පළවෙනි එක්කෙනා වගේමයි. කුසල් අකුසල් දෙකම තියෙනවා. පස්සෙ කාලකෙ කුසල් නැතිවෙලා අකුසල් පෙරට ඇවිල්ලා. දැන් නරකටමයි එයාගේ ජීවිතේ තියෙන්නෙ. අයහපත් දේවල්. හැබැයි ඇතුලේ කුසල් මුල් නැතිවෙලා නෑ, අර පළවෙනි එක්කෙනා වගේමයි. කුසල් මුල් නැතිවෙලා නෑ. ඒත් පස්සේ කාලේ කුසල් මූලයක් තිබ්බානෙ, නැත්තටම නැතිවෙලා යනවා. සමූල ඝාතනය වෙනවා ඒක. මේ ඔක්කෝම වෙන්නෙ අසත්පුරුෂ ආශ්‍රය නිසා. ඊළඟට අසද්ධර්මය ශ්‍රවණය වීම නිසා. ඊටපස්සෙ ආනන්ද, එයා පිරිහෙනවා. එයා ආයෙ ගොඩගන්න අමාරුයි. බුදුරජාණන් වහන්සේ වදාළා ගිනිඅඟුරු ටිකක් ගල්තලාවට දැම්මොත්, ගිනිගෙන දැවෙන අඟුරු ටිකක් ගල් තලාවකට දැම්මොත් එහෙම මොකද වෙන්නේ කියලා ඇහුවා, ඒක නිවී නිවීම යනවා. ගිනිඅඟුරු වල ගින්දර තියෙනවා තමයි, දාලා තියෙන්නෙ ගල්තලාවකට නිසා නිවෙන එක තමයි සිද්ධ වෙන්නෙ. ඒ වගේ තමයි අරයාගේ කුසල් මුල් තියෙනවා තමයි, නමුත් ඉන්න පරිසරයත් එක්ක ඒකත් නැතිවෙලා යනවා. ඒකයි පින්වතුනි සත්පුරුෂයෝ කියන්නෙ, මිත්‍යාදෘෂ්ටියට අහුවෙන්න එපා. බුදුන් උපන්නේ ලංකාවේ කියලා කියන මිත්‍යාදෘෂ්ටි වලට අහුවෙන්න එපා. ඊටපස්සෙ මේ ඉතිහාසය වැරදියි අපේ ත්‍රිපිටකය තියෙන්නෙ එංගලන්තෙ, මේ කියන දෘෂ්ටි වලට අහුවෙන්න එපා කියන්නෙ, මේ මිනිස්සු පින්වතුනි මේ මනුෂ්‍යයන්ට තියෙන්නෙ පුංචි

කුසලයක්. පොඩී කුසලයක් මිනිස්සුන්ට තියෙන්නෙ. මේකත් නැත්තටම නැතිවෙයි කියලා. ගලක් උඩට ගිනිඅඟුරු දැම්මට පස්සෙ ගිනිඅඟුරු වල රස්නෙ ගින්දර තියෙනවා තමයි, නමුත් ගල් තලාවක් උඩ තියෙන නිසා නිවෙන එකමයි සිද්ධ වෙන්නෙ. ඊටපස්සෙ තව උපමාවක් දේශනා කරනවා. හවස හිරු බැසගෙන යනකොට එළියක් තියෙනවා තමයි, හැබැයි අඳුරමයි එන්නෙ. ඒ වගේ කුසල් මුල් තියෙනවා, ඒ වුනාට ඉන්න පරිසරය අනුව නැත්තටම නැතිවෙලා යනවා. ඉතින් මේ ලංකාවේ ඉඳලත් පින්වතුනි මේ බේරෙන්න බැරිව පව් කර කර, අකුසල් කර කර ඉඳලා, ඊටපස්සෙ අනාචාරයේ හැසිරිලා ඉතින් ඔය වගේ පව් කර කර ඉන්න කෙනෙක් අපි කියමුකෝ පිටරටකට ගියා කියලා. මෙච්චර ධර්මය කතාවෙන, දෙමව්පියො ඉන්න, නෑදෑයො ඉන්න, පින් පව් ගැන කතාවෙන, ඊට අනුව නීති තියෙන මේ රටේත් බේරිලා ඉන්න බැරි මනුස්සයෙක් පිටරටවල ගියා කියලා. එතකොට ඒ රටවල් වල තියෙන නිදහසයි ඒකත් එක්ක බලනකොට නැත්තටම නැතිවෙලා යනවානෙ ඒ මනුස්සයා. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා. ඒ වගේම අඩ රැයක් ගෙවී බත් අනුභව කරන කල්හි අඳුර, අන්ධකාරය පහළ වෙනවා කියන එක ඒකාලෙ චාරිත්‍රයක්. ඒ කාලෙ ආහාර ගන්නවා කියන්නෙ ඒකත් එක්කම අඳුර තමයි එන්නෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා. දැන් ඒක එහෙමනේ වුනේ. ඔන්න කුසල් අකුසල් දෙකම තිබ්බා. කාටද, අජාසත්තට. ඊටපස්සෙ මොකද වුනේ? අජාසත්ත දේවදත්තගේ ඇසුරට මුල්වුනා. ඊටපස්සෙ ඔන්න දැන් මෙයා අකුසල් මෙයාගේ අතින් කෙරෙනවා. නමුත් දේවදත්තගේ ඇසුරට මුල් වුනාට ඇතුලෙ කුසල් මුල් තියෙනවා. නමුත් මෙයාගේ අතින් තාත්තා මැරුනා. සියලු කුසල් සමූල ඝාතනය වුනා. ඊටපස්සෙ පිරිහෙනවා, ආයෙ උත්තර නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා දෙවෙනි එක්කෙනා, එතකොට බුදුරජාණන් වහන්සේට මේක දකින්න පුලුවන් ඥාණය තමයි පුරුෂ ඉන්ද්‍රිය ඥාණය. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දැක්කා කුසල් අකුසල් දෙකම තියෙනවා. හැබැයි අකුසල් නැති වී කුසල් පෙරට ඇවිත්. අර කලින් කතා කරපු දෙවෙනි පුද්ගලයා වගේ. අකුසල් නැතිවෙලා කුසල් පෙරට ඇවිල්ලා. හැබැයි ඇතුලෙ අකුසල මූල නැතිවෙලා නෑ. ඇතුලේ අකුසල් මුල් තියෙනවා. පස්සෙ කාලෙ අකුසල් මුල් සමූල ඝාතනයට ලක්වෙනවා. ලක්වුනාට පස්සෙ එයා පිරිහෙන් නෑ. බුදුරජාණන් වහන්සේ වදාළා ගිනි අඟුරු ටිකක්, ගිනිගන්න ගිනිඅඟුරු ටිකක් පොඩ්ඩයි තියෙන්නෙ, දැම්මා වියළි තණකොළ ටිකකට. පත්තු වෙනවා. ඊටපස්සෙ හිරු උදේ පාන්දරම හිරු උදාවෙනවා. අඳුරේනෙ

උදාවෙන්නෙ. අඳුර තියෙනවා තමයි ආලෝකයමයි උදේ පාන්දර ආයෙ වැඩිවීගෙන යන්නෙ. මද්දහනේ බත් අනුභව කරනවා කියන්නෙ ආලෝකයමයි වැඩිවීගෙන යන්නෙ. මේ ඔක්කෝම බුදුරජාණන් වහන්සේ වදාළේ පිරිහෙන් නෑ, වැඩෙනවා කියන්න. ඇයි ඒ? සමූල ඝාතනය වුනා අකුසල්. උදාහරණයක් ගත්තොත් එහෙම ඉස්සර හිටියා සුසීම කියලා තාපසයෙක්. ඒ සුසීම තාපසයාට බුදුරජාණන් වහන්සේට අන්‍යාගමික පිරිවැජියෝ කිව්වා, මේ ශ්‍රමණ භවත් ගෞතමයො කියන බණ නිසා තමයි මේ ලාභසත්කාර, කීර්තිප්‍රශංසා ඔක්කෝම උපදින්නෙ. ඔක්කෝම බණ අහන්න යන්නෙ ඒ පැත්තට තමයි, අපිට තමයි මොකවත් නැත්තෙ කියලා, හොඳට කටකාර, මතකහිටින සුසීම කියලා තාපසයෙක් එව්වා උඹ ගිහිල්ලා බණ ඔක්කෝම ටික ඉගෙන ගෙන වරෙන්. අපේ බණක් විදියට කියමු කියලා. අපේ බණක් විදියට කියමු කියලා කිව්වා. ඊටපස්සෙ සුසීම කියන එක්කෙනා ගිහිල්ලා ආනන්ද ස්වාමීන් වහන්සේ ළඟ මහණ වුනා. ඊටපස්සෙ දැන් ඔක්කොම ඉගෙන ගන්නවා. එතකොට දැන් බලන්න මෙයා කුසල් නැතිවෙලා ධර්මය හොරකම් කරන අදහසින්නෙ ආවෙ. ඊටපස්සෙ මොකද වුනේ. මෙයාට රහතන් වහන්සේලා ගැන අහන්න ලැබිලා, බුදුරජාණන් වහන්සේ ළඟට ගිහිල්ලා එයාට තේරෙන් නැති අර්හත්වයේ ස්වභාවය අහනවා. බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ ඒ ධර්මය විස්තර කරන එක අහලා ඒ සුසීම අර්හත්වයට පත්වුනා. බලන්න ඒ යහපත. එතකොට අර අකුසල් මුල් තිබ්බා නම් ඒවා ඔක්කෝම සමූල ඝාතනය වුනා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, කුසල් අකුසල් දෙකම තියෙනවා. අවසානයේදී අශ්වලෝමයක අග තියෙන තරම්වත් අකුසල් නැතිවෙලා යනවා. උඩ වුනේ කුසල් නැතිවුනානෙ. එතකොට අකුසල් නැතිවෙලා යනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා එයා පස්සෙ කාලෙක පරම පවිත්‍ර පරම නිරවද්‍ය වූ පරිනිර්වාණයට පත්වෙනවා. සියලු රහතන් වහන්සේලා මුල් කාලයේ කුසල් අකුසල් දෙකම තියෙනවා. ඊටපස්සෙ තමයි උන්වහන්සේලා භාග්‍යවතුන් වහන්සේගේ ඇසුරේ කල්‍යාණමිත්‍රයන්ගේ ඇසුරේ කුසල් වඩන්නේ. කුසල් වඩලා පස්සෙ කාලෙක නිකෙලෙස් වෙනවා. අස්ලෝමයක අග තැවරුන තරම්වත් අකුසලයක් නෑ. උන්වහන්සේලා පිරිනිවන් පාලා යනවා. ඔන්න බුදුරජාණන් වහන්සේ වදාළා. ඒක හරියට උපමාවකින් කිව්වොත් නිවුනු ගින්දර ටිකක් ගල් තලාවකට දානවා. එතකොට නිවුනු ගින්දර ටිකක් තණකොළ වලට දානවා. පත්තු වෙන්නෑ. ආයෙ ඇවිලෙන් නෑ, දැවෙන්නෙ නෑ. ඒ වාගේ බුදුරජාණන් වහන්සේ වදාළා ආයෙ අකුසල් වලින් දැවෙන් නෑ. මෙන්න

මේක තමයි කිව්වා ආනන්ද තථාගතයන් වහන්සේගේ පුරුෂ ඉන්ද්‍රිය ඥාණය. ඉතින් බුදුරජාණන් වහන්සේ මේ විස්තරය දේශනා කරලා ආනන්ද ස්වාමීන් වහන්සේට කියනවා, ආනන්ද කලින් පැවසූ පුද්ගලයෝ තිදෙනාගෙන් එක්කෙනෙක් නොපිරිහෙන ස්වභාවයෙන් යුක්තයි, අනිත් එක්කෙනා පිරිහෙන ස්වභාවයෙන් යුක්තයි, අනිත් එක්කෙනා අපායේ උපදින ස්වභාවයෙන් යුක්තයි. ඒ වගේම ආනන්ද පසුව කියපු තුන්දෙනාගෙන් එක්කෙනෙක් පිරිහී යන ස්වභාවයෙන් යුක්තයි, අනිත් එක්කෙනා නොපිරිහී යන ස්වභාවයෙන් යුක්තයි, අනිත් එක්කෙනා පිරිනිවන් පාන ස්වභාවයෙන් යුක්තයි කියලා බුදුරජාණන් වහන්සේ වදාළා. එතකොට මේ පුද්ගලයන්ගේ මේ කුසල් අකුසල් වල ඉස්මතු වෙන එක, යට යන එක, නැසෙන එක, පිරිනිවන් පාන එක මේ ඔක්කෝම බුදුරජාණන් වහන්සේ දකින ඥාණයක් තියෙනවා. ඒ ඥාණයට මොකක්ද කියන්නෙ? පුරුෂ ඉන්ද්‍රිය ඥාණය කියලා. අපි සරණ ගිය ශාස්තෘන් වහන්සේගේ. ඉතින් අපිට සමහර වෙලාවට මේවා මෙහෙම කියනකොටවත් තේරෙන් නෑ, ඉතින් නමුත් මේ සියල්ල භාග්‍යවතුන් වහන්සේ ස්වයංභූත් ඥාණයෙන් අවබෝධ කළා. උතුම් වජිරාසනයේ නිකෙලෙස් වෙනකොටම මේ භාග්‍යවතුන් වහන්සේ තුළ පිහිටියා, මේ පුරුෂ ඉන්ද්‍රිය ඥාණය. මේ පුරුෂ ඉන්ද්‍රිය ඥාණයෙන් බුදුරජාණන් වහන්සේ හය දෙනෙක් ගැන වදාළා. මං කෙටියෙන් නැවත මතක් කරන්නම් ඒ හයදෙනා ගැන. බුදුරජාණන් වහන්සේ පුරුෂ ඉන්ද්‍රිය ඥාණයෙන් දකිනවා එක්කෙනෙක් තුළ කුසල් අකුසල් දෙකම තියෙනවා. පස්සේ කාලෙ කුසල් නැතිවෙලා ගිහිල්ලා අකුසල් එනවා. ඒ කියන්නෙ එයා පස්සෙ කාලෙ නරක වැඩ කරන්නෙ. හැබැයි ඇතුලේ කුසල් මුල් තියෙනවා. ඒ නිසා ඇතුලේ කුසල් මුල් වැනසිලා නැති නිසා මෙයා පිරිහෙන් නැති කෙනෙක් වෙනවා. එයා කොහොමහරි සත්පුරුෂ ඇසුරින් කොහොමහරි ශ්‍රී සද්ධර්ම ශ්‍රවණයෙන් එයාගේ ජීවිතේ කුසලයට ගන්නවා, පිරිහෙන් නෑ. හේතුව ඇතුලේ කුසල් මුල් තිබ්බා. ඊටපස්සෙ තව කෙනෙක් ඉන්නවා, දෙවෙනි එක්කෙනා. කුසල් අකුසල් දෙකම තියෙනවා. මෙයාගේ අකුසල් නැති වෙලා කුසල් ඉස්සරහට එනවා. ඒ කියන්නෙ දැන් හොඳ වැඩ කරන කෙනෙක්. නමුත් ඇතුලේ අකුසල් මුල් තියෙනවා. අකුසල් මුල් තියෙන නිසා මෙයාගේ අකුසල් මුල් ඉස්මතු වෙලා පස්සෙ පිරිහෙන කෙනෙක් බවට පත්වෙනවා. ඊළඟට තුන්වෙනි එක්කෙනා. බුදුරජාණන් වහන්සේ වදාළා කුසල් අකුසල් දෙකම තියෙනවා. පස්සෙ කාලෙක අශ්වයෙක්ගේ ලෝමයක අග තැවරුනු තරම්වත් කුසලයක් නැතිවෙන තරමටම පිරිහෙනවා. ඊටපස්සෙ විසඳුමක් නෑ, නිරයේම තමයි.

එතකොට මේක දන්නේ දකින්නේ බුදුරජාණන් වහන්සේ. ඊළඟට බුදුරජාණන් වහන්සේ අනිත් තුන්දෙනා වදාළා. ඒ තමයි කුසල් අකුසල් දෙකම තියෙනවා. ඊටපස්සෙ පස්සෙ කාලෙක කුසල් නැතිවෙලා අකුසල් ටික තමයි ඉස්සරහට එන්නෙ. හැබැයි ඇතුලෙ කුසල් මුල් තියෙනවා. නමුත් බලන්න වෙන දේ. ඒ තියෙන කුසල් මූලයන් සමූල ඝාතනය වෙනවා. ඊටපස්සෙ එයා ඉතින් පිරිහෙනවාම තමයි. ආයෙ උත්තර නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා, ඊළඟ කෙනා කුසල් අකුසල් තියෙනවා. එයාගේ අකුසල් නැතිවෙලා කුසල් මුල් ඉස්සරහට එනවා. හැබැයි ඇතුලේ අකුසල් මුල් තියෙනවා. හැබැයි එයාගේ අකුසල් මුල් සමූලඝාතනය වෙනවා. ඒ අකුසල් මුල් සමූලඝාතනය වෙන නිසා එයාව පිරිහෙන් නෑ, ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා එක්කෙනෙක් තුළ කුසල් අකුසල් තියෙනවා. හැබැයි පස්සේ කාලෙ එයාගෙ සියලූම අකුසල් අශ්වලෝමයක අග තැවරෙන තරම්වත් නැතිවෙන තරමටම අකුසල් නැතිවෙලා යනවා, එයා පිරිනිවන් පානවා. ඔන්න බුදුරජාණන් වහන්සේ මේ දකින්නා වූ ඥාණය මහා පුරුෂ ඉන්ද්‍රිය ඥාණය. බුදුරජාණන් වහන්සේගේ පුරුෂ ඉන්ද්‍රිය ඥාණය. බුදු කෙනෙකුට තියෙන්නෙ. එතකොට දැන් මතක තියාගන්න අපි කාටත් කුසල් අකුසල් කියන එව්වා තියෙනවා. ඊටපස්සෙ දැන් ඔන්න කාගෙ වුනත්, අපි කියමු ධර්මය අහන පිරිසගේ කුසල් ඉස්මතු වෙලා තියෙන්නෙ. හැබැයි ඇතුලේ අකුසල් තියෙන නිසා මේ කුසලය, මේ සරණේ ස්තීර වුනේ නැත්නම් ආයෙ පිරිහෙන්න ඉඩ තියෙනවා, සරණ පිහිටියේ නැත්නම්. හැබැයි බුදුරජාණන් වහන්සේ දේශනා කලේ මෙන්න සසර ගමන. මෙන්න සසර ගමන. ඉතින් මේකෙන් පිරිනිවන් පානවා පිරිසක්. සරණට ඇවිල්ලා ඒ භාග්‍යවතුන් වහන්සේ වදාළ වැඩපිළිවෙලේ හික්මිලා, ඒකයි බුදුරජාණන් වහන්සේ සත්පුරුෂ ඇසුර නිතර ලබන්න කියලා කියන්නෙ. ශ්‍රී සද්ධර්ම ශ්‍රවණය නිතර ලබන්න කියලා කියන්නෙ ඒකයි. කල්‍යාණමිත්‍ර ඇසුරේ වාසය කරන්න කියලා කියන්නෙ ඒකයි. ඒකයි අසේවනාච බාලානං පණ්ඩිතානංච සේවනා කියලා කිව්වෙ. බාලයෝ ඇසුරු කරන්න එපා පණ්ඩිතයො සේවනය කරන්න කියලා කිව්වෙ කුසල් මුල් සමූල ඝාතනය වෙනවා අසත්පුරුෂයො ළඟ. ඇතුලේ තියන අකුසල් මුල් උඩට එනවා හොඳට ඉන්න කෙනෙකුට වුනත් අසත්පුරුෂයාට පුලුවන් කොක්ක ගහලා ගන්න. ඒ නිසා අසත්පුරුෂ ආශ්‍රය හොඳම නෑ. අසද්ධර්මශ්‍රවණය හොඳම නෑ. ඒකයි පින්වතුනි බණ අහන්න කැමැත්තක් ඇතිවෙච්චි කෙනාට වුනත් ගොඩාක් අය දැන් පිටරටවල සහ අන්තර්ජාලය පාවිච්චි කරන අය ධර්මය අහන්නේ

පින්වතුනි youtube එකෙන්නෙ. එතකොට youtube එකෙන් ධර්මය අහනකොට කුසල් සිත් ඉපදිලා ධර්මය අහනවා. නමුත් එයාගේ ඇතුලේ තියෙනවා මිත්‍යාදෘෂ්ටියට යන එක එක දේවල් ග්‍රහණය කරගන්න අකුසල මූල තියෙනවා. එතකොට ඔය youtube එකේ තියෙන බණ ගොඩ අස්සේ කවුරුහරි එකෙක් වෙන මොකක්හරි මිත්‍යාදෘෂ්ටියක් කියාගෙන ගියොත් ඒ බණත් ඇහුවොත් එහෙම එයා ඒ පැත්තට යනවා. මේ youtube එකෙන් බණ ඇහිල්ලෙත් තියෙනවා. ඇයි තෝරගන්න බැනෙ එයාට. තෝරගන්න බෑ, එයා හොඳ කෙනෙක් වුනත් විනාශ වෙන්න ඉඩ තියෙනවා. ඉතින් මේවා තේරුම් බේරුම් කරගන්න. මේ තමයි සසර ගමන. මේ සියල්ල දන්නේ දක්නේ බුදුරජාණන් වහන්සේ. ඒ නිසා මේ සා අනන්ත අපරිමාණ අනන්ත සම්බුදු නුවණ ඇති මහා පුරුෂ ඉන්ද්‍රිය ඥාණයෙන් බැබලි බැබලී වැඩ සිටිය බුදුරජාණන් වහන්සේ දිවි හිමියෙන් සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. පුරුෂ ඉන්ද්‍රිය ඥාණයෙන් සමන්විත බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණ ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් පින්වත්නි අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ මිහින්තලේ පදිංචිව සිටින පින්වත් ස්වර්ණතිලකා මහත්මිය විසින්. එස්.විජේසිංහ මහත්මයා සහ තිළිණි නිසංසලා විජේසිංහ දියණිය විසින්. ඉතින් අපි මේ රැස්කරගත්ත සියලූම පුණ්‍යධර්මයන් ඒ වගේම ධර්ම දානයෙන් රැස්වුනු පුණ්‍ය ධර්මයන් ඒ වගේම ධර්ම ශ්‍රවණය කරපු පුණ්‍ය ධර්මයන් භාග්‍යවතුන් වහන්සේගේ පුරුෂ ඉන්ද්‍රිය ඥාණයේ ආනුභාවයෙන් තුණුරුවන්ගේ ආනුභාවයෙන්, ජයසිරිමහා බෝධීන් වහන්සේගේ රුවන්වැලිමහා සෑයේ ආනුභාවයෙන්, ථූපාරාමයේ ආනුභාවයෙන් මේ ශ්‍රී සද්ධර්මය ලක්දෙරණට වැඩම වූ මිහිඳු මහරහතන් වහන්සේගේ ආනුභාවයෙන්, සේල චෛත්‍යය, අම්බස්ථල චෛත්‍යය, මහා සෑය, මිහින්තලා මහාසෑය සහිත මිහින්තලා මහා වෙහෙරේ ආනුභාව බලයෙන්, මිහිඳු මහරහතන් වහන්සේ වඩම්මගෙන පැමිණි ධර්මයේ ආනුභාවයේ බලයෙන්, මිහිඳු මහරහතන් වහන්සේ නිසා පහළ වූ ලක්දෙරණේ මහරහතන් වහන්සේලාගේ ආනුභාව බලයෙන් මේ අපගේ රටටත් ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ වසංගතය දුරින්ම දුරු වේවා, සියලුදෙනාට රැකවරණය ආරක්ෂාව සැලසේවා. ඒ වගේම අසනීප වුනු අය නිදුක් නිරෝගී වේවා. ඒ වගේම මේ සඳහා කටයුතු කරපු ජනාධිපතිතුමා, ඒ වගේම සෞඛ්‍ය අංශයේ සියලුම දෙනා, ත්‍රිවිධ

හමුදාව, පොලිසිය, සියලු මාධ්‍ය ආයතන සියලු දෙනාට සෙත් වේවා. බියක් සැකක් කරදරයක් පීඩාවක් නැතිව, ලෙඩක් දුකක් නැතිව නිරෝගීව මේ මනුස්ස වර්ගයාට ජීවත් වෙන්න තුණුරුවන්ගේ ආශිර්වාදය සැලසේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී දෙවියන්ගේ දිව්‍ය යස ඉසුරු වඩාවර්ධනය වී සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම මීට වසර හයකට පෙර මියපරලොව ගිය පියාණන්ට, සීයාට, ඒ වාගේම ස්වාමිපුරුෂයාගේ මෑණියන්ට මේ පින් අනුමෝදන් වී ඔබ කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා. ඒ වගේම පරමපූජනීය, ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා. ඉතින් මේ පුරුෂ ඉන්ද්‍රිය ඥාණ සූත්‍රය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මීටත් වඩා සවිස්තරව දේශනා කරපු දේශනාවක් තියෙනවා. ඉතින් ඒ දේශනාවත් හොයාගෙන අහන්න. ඉතින් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ පින් බලයෙන් නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා කියලා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට පින් පමුණුවනවා. සියලුම ස්වාමීන් වහන්සේලාට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් බලයෙන් ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම සුජීවත්ව සිටින මේ පින්වතුන්ගේ මෑණියන්ට, ඒ වගේම ආච්චි අම්මාට, ඒ වගේම ප්‍රියංගනී ගුණතිලක සහ ඉරෝෂා ගුණතිලක යන සහෝදර සහෝදරියන් දෙදෙනාට ඒ පවුල් වල සියලු දෙනාට නිදුක් නිරෝගී සුව සැලසේවා. ඒ වගේම මිහින්තලයේ පදිංචිව සිටින පින්වත් ස්වර්ණා ගුණතිලක මහත්මියට, ඒ වගේම එස්.විජේසිංහ මහත්මයාට, තිලිණි නිසංසලා විජේසිංහ දියණියට මේ පින් අනුමෝදන් වේවා. ඔබ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගැනීම පිණිස මේ පින් ඒකාන්තයෙන්ම හේතුවාසනා වේවා. ඔබ සියලු දෙනාටත් ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, ඒ වගේම ධර්මදායකත්වය සපයන සියලු දෙනාට, මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන් සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. අපි කාටත් කුසල් දියුණු කරගන්න, කුසල් මුල් රැකගන්න, ඒ වගේම කුසල් දියුණු කරගැනීම පිණිස සත්පුරුෂ ආශ්‍රය, ශ්‍රී සද්ධර්ම ශ්‍රවණයම නිරන්තරයෙන් සැලසේවා. අපිටත් ගෞතම බුද්ධ ශාසනයේ සැනසෙන්න අසිරිමත් සම්බුදු සරණ සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා, තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=azIvKNA7rZ8&list=PLaIyA_suCnHx15brN1U__CvrdI W8GMhnA&index=37

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ගුණකඳ තමයි ඔබ ඉගෙන ගන්නෙ. ඇත්තටම මේ දේශනා මාලාව අපි කරගෙන යනකොට තමයි අපිටත් තේරෙන්නේ මේ ත්‍රිපිටකයේම මේ දේශනාවලම කොයිතරම් නම් බුදුගුණ කන්දරාවක් අපිට දේශනා වලින්ම ඉගෙන ගන්න තියෙනවාද කියලා. ලොකු අවධානයක් යොදවන් නැති නිසා තේරෙන් නෑ. අපි වචනෙට කියනවා බුදුගුණ අනන්තයි, බුදුගුණ අනන්තයි, බුදුගුණ අනන්තයි කියලා. නමුත් දැන් මම මෙච්චර වැඩසටහන් කරපු නිසා මේ සම්බන්ධයෙන් මට නම් හොඳටම හිතට තේරෙනවා බුදුගුණ නම් අනන්තයි කියලා. කියලා නිම කරන්න බෑ. දැන් අපි මේ වැඩසටහනත් හෝරාවකට අඩු කාලයක් නිසා ඉතින් ගොඩාක් පැය ගණන් විස්තර කරන්න තියෙන දේශනා වුනත් හෝරාවකට අඩු කාලයකට කෙටි කරලා තමයි විස්තර කරන්නෙ. දැන් දසබල ඥාණ අපි දේශනා දෙකකින් වගේ වැඩසටහන කළේ. දසබල ඥාණ එක වැඩසටහනක් පැය ගාණක්. එක ඥාණයක් විස්තර කරන්න පුලුවන්. ඉතින් ඒ විදියට බුදුගුණ නම් අනන්තයි අප්‍රමාණයි. දැන් අපි මීට කලින් දවසේ ඉගෙන ගත්තා මහා පුරුෂ ඉන්ද්‍රිය ඥාණය බුදුරජාණන් වහන්සේගේ. ඉතින් බුදුරජාණන් වහන්සේගේ අනන්ත

ඥාණ, දසබල ඥාණ, විශාරද ඥාණ, ෂඩ් අසාධාරණ ඥාණ, මහා කම්ම විභංග ඥාණය, පුරුෂ ඉන්ද්‍රිය ඥාණය ඉගෙන ගත්තා. අද අපි ඉගෙන ගන්නවා පුරුෂ පුග්ගල පරෝපරිය ඥාණය. ගොඩාක් අය අහලවත් නැතිව ඇති. පුරුෂපුග්ගල පරෝපරිය ඥාණය. ඉතින් අද මේ උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ බෙල්ජියමේ පදිංචි පින්වත් නන්දනී චන්ද්‍රසේකර මහත්මිය සහ සයිප්‍රස්හි පදිංචි පින්වත් රූපා බස්නායක මහත්මිය ඇතුළු පිරිස. ඉතින් මේ පින්වතුන් ගොඩාක් පින් කරගන්නවා මේ ධර්ම දානයෙන්. මියපරලොව ගිය අයට පින් පිණිසත්, සුජීවත්ව සිටින අයට සෙත් පිණිසත්, දරුවන්ට සෙත් පිණිසත් මූලික කරගෙන මේ ධර්ම දානය සිද්ධ කරනවා. භාග්‍යවතුන් වහන්සේගේ පුරුෂපුග්ගල පරෝපරිය ඥාණය අද ශ්‍රවණය කරන්නෙ. ඉතින් ඒ පින නොඇසූ ඒ ධර්ම කරුණු අහන්න සළස්වන පින, බුදුරජාණන් වහන්සේට පැහැදීම පිණිස පවතින, ප්‍රසාදය පිණිස, ශ්‍රද්ධාව පිණිස පවතින ඒ ධර්ම දානය ලබාදීම ගැන ඒ පින්වතුන් සන්තෝෂයට පත්වෙන්න. ඉතින් පින්වතුනි අපි මීට කලින් කතා කල පුරුෂ ඉන්ද්‍රිය ඥාණය. පුරුෂ ඉන්ද්‍රිය ඥාණයෙන් බුදුරජාණන් වහන්සේ දකින දේ තමයි බුදුරජාණන් වහන්සේට දකින්න පුලුවන් මේ පුද්ගලයෝ මේ ලෝක සත්ත්වයා කුසල් අකුසල් වල ඉන්නෙ. කුසල් අකුසල් දෙකම ලෝක සත්ත්වයාට තියෙනවා. සමහර අයගේ කාලයක් ගියාට පස්සෙ කුසල් ඉස්මතු වෙනවා. නමුත් ඇතුලේ අකුසල් තියෙන නිසා ඒ අයගේ අකුසල් වැඩිලා යනවා පස්සෙ කාලෙ. එතකොට අවසන් මොහොත ගෙවෙන්නෙ අකුසලයෙන්. සමහර අයගේ කුසල් අකුසල් දෙකම තියෙනවා, අකුසල් කරනවා, නමුත් ඇතුලෙ කුසල් තියෙනවා. ඇතුලෙ කුසල් තියෙන නිසා පස්සෙ කුසල් වඩවගෙන අවසන් මොහොත ගෙවෙන්නෙ කුසලයෙන්. එතකොට ඔයාලගේ ජීවිත වල ඇති. දන්න කියන තොරතුරු ඕන තරම්. සමහර අයගේ ජීවිතේ කුසල් මාත්‍රයක් නැති කරගන්නවා අවසානෙට. මව් මරනවා, පියා මරනවා, සෑය බෝධි වෙහෙරවල් කඩනවා, ආර්ය උපවාද කරගන්නවා. මෙහෙම කරලා කුසල් මුල් සංඝාතනය කරගන්නවා. නිරයටම යනවා. ඊටපස්සෙ තව සමහර අය ඉන්නවා කුසල් අකුසල් දෙකම තියෙනවා, ඊටපස්සෙ පස්සෙ කාලෙ අකුසල් කරනවා, නරක වැඩ කරනවා. නමුත් ඇතුලේ කුසල් මුල් තියෙනවා. නමුත් අසත්පුරුෂ ආශ්‍රයෙන් ඒ තියෙන කුසල් මුල් ටිකත් නැතිවෙලා යනවා. කුසල් අකුසල් දෙකම තියෙනවා. ඊටපස්සෙ මෙයා කුසල් කරනවා. ඇතුලේ අකුසල් මුල් තියෙනවා. නමුත් අකුසල් මුල් නැත්තටම නැති කරනවා. ඊටපස්සෙ මෙයා ශාසනයේ වැඩෙනවා. සමහර අයගේ

අශ්වලෝමයක් අග තැවරෙන්නවත් අකුසලයක් නැතිකරගන්නවා මේ ලෝක සත්ත්වයා. අන්න ඒ උත්තමයන්ට තමයි පිරිනිවන් පානවා කියලා කියන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේට ලෝකය දිහා බලනකොට නිරයේ යන්නෙ කවුද, දෙව්ලොව යන්නෙ කවුද, අකුසල් අතඅරින්නෙ කවුද, වැරදි අත්අරින්නෙ කවුද, ඔක්කොම තේරෙනවා. පිරිනිවන් පාන්නෙ කවුද ඔක්කොම තේරෙනවා බුදුරජාණන් වහන්සේට. දැන් අංගුලිමාලයන් එහෙමනෙ. කුසල් අකුසල් දෙකම තිබ්බා. පස්සෙ කාලෙ අකුසලේමයි. අකුසලේමයි. නමුත් ඇතුලේ කුසල් මුල් තියෙනවා. බුදු කෙනෙක් මුණ ගැහුනා. අවසානෙ අශ්වලෝමයක් අග තියෙන ප්‍රමාණයක තරම්වත් අකුසලයක් නැති වෙලා අර්හත්වයට පත්වුනා. පිරිනිවන් පෑවා. බුදුරජාණන් වහන්සේට එය දකින ඥාණය, පුරුෂ ඉන්ද්‍රිය ඥාණය. මං ඔය අපි මීට කලින් කතා කරපු වැඩසටහනින් සාරාංශයක් කිව්වෙ මතක් වෙන්න. කෙටියෙන් තේරෙන් නැත්නම් අනේ මේ ස්වභාවය භාග්‍යවතුන් වහන්සේ අවබෝධ කලානේ, බුදුරජාණන් වහන්සේ තුළ මේ ඥාණය තියෙනවානේ. මාගේ ශාස්තෘන් වහන්සේ සරණ යන්න ලැබීම භාග්‍යයක්, මට ලාභයක් කියලා චිත්ත ප්‍රසාදය ඇති කරගන්න. අද ඥාණයත් ඒ වගේ. අද අපි උගන්වන්නේ පුරුෂ පුග්ගල පරෝපරියත්ත ඥාණය. බුදුරජාණන් වහන්සේගේ. පුරුෂයන් පිළිබඳව, ඒ පුරුෂයන්ගේ වෙනස්කම්, මේකෙ තියෙන්නෙ පුද්ගලයෝ ප්‍රමාණය කරන්න එපා කියලා. දැන් අපි කට්ටිය දැක්ක ගමන් මෙයා හොඳ කෙනෙක්, මෙයා නරක කෙනෙක්, මෙයා පුදුම කෙනෙක් කියලා එක එක්කෙනාට එක එක අපි ලකුණු දෙනවානෙ. බලමු දැන් මේ දේශනාව දිහා බලලා. බුදුරජාණන් වහන්සේ, මේ දේශනාවෙ නම මිගසාලා සූත්‍රය. අංගුත්තර නිකායේ දස්සක නිපාතයේත් තියෙනවා, චත්තක නිපාතයේත් තියෙනවා. මේ එකම සූත්‍රය ආකාර දෙකකින් විස්තර කරලා තියෙනවා. ඒ පොත් වහන්සේලා දෙනමගේම. ඒ කාලේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ වැඩ හිටියේ සැවැත්නුවර ජේතවනාරාමයේ අනේපිඩු සිටුතුමාගේ ආරාමයේ. එකල්හි ආනන්ද ස්වාමීන් වහන්සේ පෙරවරුවේ සිවුරු හැඳ පොරොවා පාත්‍රය රැගෙන පිණ්ඩපාතයේ වැඩම කළා. ඊටපස්සෙ මිගසමිදා කියලා උපාසිකාවක් හිටියා, පුරානඉසිදත්ත දෙදෙනා ගැන ඔබ අහලා ඇතිනෙ කොසොල් රජ්ජුරුවන්ගේ ඇත්තුන්ගේ පිටට රජතුමා නග්ගවන්නේ බස්සවන්නේ, ඒ කුමාරිකාවෝ නග්ගවන්නේ බස්සවන්නේ ඒ පුරානඉසිදත්ත. ඒ පුරානඉසිදත්ත දෙදෙනාගේ ඒකෙන් දියණියක් මේ. ඉතින් මිගසාලාගේ නිවසට ආනන්ද ස්වාමීන් වහන්සේ පිණ්ඩපාතයේ වැඩියා. අනේ ස්වාමීනී අසුන් ගන්න කියලා පිණ්ඩපාතෙ

බෙදනකල් ආසනයක් පැනෙව්වා. ආනන්ද ස්වාමීන් වහන්සේ වැඩ හිටියා. පිණ්ඩපාතෙ බෙදුවා. ඊටපස්සෙ එක තැනක වාඩිවෙලා මේ මිගසාලා ආනන්ද ස්වාමීන් වහන්සේට කියා හිටිනවා, ස්වාමීනී ආනන්දයන් වහන්ස බුදුරජාණන් වහන්සේ වදාරපු ධර්මය කොහෝම තේරුම් ගන්නද කියලා මට තේරෙන් නෑ, බුදුරජාණන් වහන්සේ බ්‍රහ්මචාරී කෙනයි අබ්‍රහ්මචාරී කෙනයි දෙදෙනාම මැරුණට පස්සෙ එක තැනක ඉපදුනා කියලා වදාළානෙ. ඉතින් මට තේරෙන් නෑ මේවා කොහොම තේරුම් ගන්නද කියලා. ස්වාමීනී මාගේ තාත්තා පුරාන. ඉතින් මාගේ තාත්තා බ්‍රහ්මචාරීයී, මගේ තාත්තා බොහෝ කාලයක් මෛථුන්‍ය සේවනයෙන් වැළකිලා බ්‍රහ්මචාරීව, කිසිම කාම ක්‍රියාවක් නැතිව වෙනම වාසය කලේ බ්‍රහ්මචාරීව. ඉතින් ඔහු ළඟදි මැරුනා. ඔහු සකදාගාමී කෙනෙක්. දැන් ඉන්නේ තුසිතයේ කියලා බුදුරජාණන් වහන්සේ ප්‍රකාශයක් කලා. මගේ ඊටපස්සෙ කියා හිටිනවා, මගේ සුළු පියා මගේ බාප්පා ඉසිදත්ත, ඔහුත් ළඟදින් මැරුණා. හැබැයි ඉසිදත්ත අවසන් වෙනකල්ම අඹුදරුවොත් එක්ක හිටියෙ. බ්‍රහ්මචාරී වුන් නෑ, අඹුවත් එක්ක වාසය කරපු කෙනෙක් අවසන් කාලය වෙනකල්ම. එතකොට ඔහු මැරුණා. ඔහු ගැනත් බුදුරජාණන් වහන්සේ වදාළා ඔහුත් සකදාගාමී කෙනෙක්, ඔහු ඉපදිලා ඉන්නෙත් තුසිතයේ කියලා. ඉතින් අපේ තාත්තා බ්‍රහ්මචාරීයී, බාප්පා අබ්‍රහ්මචාරීයි. ඉතින් මේ දෙදෙනාම කොහොමද ගිහිල්ලා එක තැනක ඉපදුනේ? මට නම් තේරෙන් නෑ මේවා කොහොම තේරුම් ගන්නද කියලා. ඊටපස්සෙ ආනන්ද ස්වාමීන් වහන්සේ වදාළා, සොහොයුරිය, නැගණිය බුදුරජාණන් වහන්සේ යමක් වදාළා නම් ඒක එහෙම්මම තමයි. මේ සමහර බවලත්තු ඉන්නවානෙ කොච්චර බණ තේරුම් කළත් තේරෙන් නැත්තෙ. ආනන්ද ස්වාමීන් වහන්සේට තේරුනා එක වචනයක් කිව්වා, පිණ්ඩපාතෙ අරන් වැඩියා. ආයෙ වෙන තේරුම් කරන්න ගියෙ නෑ. ඇයි මොළේ වැඩියිනෙ මේ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගෙන් ආනන්ද ස්වාමීන් වහන්සේ අහනවා, ස්වාමීනී මම අද උදේ පිණ්ඩපාතෙ වඩිද්දින් මෙන්න මෙහෙම සිද්ධියක් වුනා. ඉතින් මිගසාලා මෙහෙම කතාවක් කියනවා, අබ්‍රහ්මචාරී කෙනයි බ්‍රහ්මචාරී කෙනයි කොහොම නම් එක තැනක ඉපදෙන්නද, මේ පුරාන ඉසිදත්තගේ මරණයත් එක්ක භාග්‍යවතුන් වහන්සේ කරපු ප්‍රකාශය තමයි මේ ස්ත්‍රියාව මේ අරන් මට කිව්වෙ. මම භාග්‍යවතුන් වහන්සේ යමක් වදාළා නම් ඒක එහෙම්මම තමයි. ඔන්න බලන්න ශ්‍රාවකයෙක් ඉන්න ඕන තැන බලන්න. දැන් මිගසාලාගේ තියෙන අසද්ධාව බලන්න. දැන් තාත්තා සකදාගාමී කෙනෙක්. දෝණියන්දෑ ගැන බලන්න. බාප්පා සකදාගාමී

කෙනෙක්. පවුලේ අය දිහා බලන්න. ආනන්ද ස්වාමීන් වහන්සේ ශ්‍රාවකයෙක්, ශ්‍රාවකයා දිහා බලන්න. භාග්‍යවතුන් වහන්සේ යමක් දේශනා කලා නම් ඒක එහෙම්මම තමයි. කොහොමද වෙන්නෙ, අරකද, මේකද කියලා පණ්ඩිතානුසාරී නෑ. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ වදාළා ආනන්ද, ඔය බාල වූ, අව්‍යක්ත වූ, බොළඳ වූ, බොළඳ ප්‍රඥා ඇති මිගසාලා අම්බක පඤ්ඤා. අඹගෙඩියක මොළේ තියෙනවා. ඒ කියන්නෙ අඹ ගෙඩියක මොළේ කියන්නෙ මොකක්ද? අඹ ගෙඩියක් අරන් ඔබලා බලලා කියන්න පුලුවන් මේක ඉදිලද නැද්ද කියලා. ඔච්චරයි මොළේ. ඊටපස්සෙ ඔය අම්බක ප්‍රඥාවක් තියෙන, ලාමක ප්‍රඥාවක් තියෙන මේ මිගසාලා කව්ද, පුරුෂපුග්ගල පරෝපරිය ඤාණ තියෙන, පුද්ගලයන්ගේ ශ්‍රද්ධාදී ඉන්ද්‍රියන් ක්‍රියාත්මක වන අයුරු දකින ඤාණයෙන් යුක්ත වූ උත්තමයා කවරහුද? බුදු කෙනෙක්ගේ මොළයට බුදු කෙනෙක්ගේ ප්‍රකාශයක් ගැන මේ විදියට කතා කරන්න මේ මිගසාලාගේ මොළය මොකක්ද? ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ආනන්ද, ලෝකයෙහි මේ දස දෙනෙක් විද්‍යමාන වේ. ඔන්න මං දැන් දහ දෙනෙක් ගැන කියන්න යන්නෙ, භාග්‍යවතුන් වහන්සේ විස්තර කරනවා. ආනන්ද, මෙහිලා, දැන් මේ සූත්‍ර දේශනාව පින්වතුනි දැන් පුද්ගලයෝ ප්‍රමාණය කරන්න එපා කියන එකයි මේකෙන් යන්නෙ. එතකොට මේක හොඳට තේරුම් ගන්න. සූත්‍ර දේශනාව තියෙන විදියට මම විස්තර කරගෙන යන්නම්. අවසානෙදි තවත් විස්තර කරන්නම්. ඒ නිසා හොඳට අහගෙන ඉන්න. ආනන්දයෙනි, මෙහිලා එක්තරා පුද්ගලයෙක් දුශ්ශීලයි. ඒ චිත්ත විමුක්තියත්, ප්‍රඥා විමුක්තියත් ඒ හැටියෙම දන්නෙ නෑ. ඒ කියන්නෙ දුශ්ශීල බව නැතිවෙනවා නම් යම්කිසි සංසිඳීමකින්. දුශ්ශීලකම නැතිවෙනවා නම් යම්කිසි විදර්ශනාවකින් ඒවා පිළිබඳව ඒ අය දන් නෑ. ඊළඟට යම් ධර්මයකින් ඔහුගේ දුශ්ශීල බව ඉතුරු නැතිව නිරුද්ධ වෙනවා නම්, දුශ්ශීල කම් නිරුද්ධ වෙන ධර්ම තියෙනවා. ඒවා ගැනත් මෙයා දන් නෑ. ඔහු ශ්‍රවණයෙන් අහලත් නෑ. ඊටපස්සෙ බහුශ්‍රැත භාවයකුත් නෑ, දෘෂ්ටිය පිරිසිදු කරගෙනත් නෑ ඒ ධර්මය පිළිබඳව. ඊළඟට කාලෙන් කාලෙට ධර්මය අහලා ධර්ම ප්‍රීතිය ලබලත් නෑ මෙයා. මෙයා කය බිඳිලා මරණින් මත්තේ පිරිහීම කරාම යනවා විශේෂත්වයක් කරා යන්නෙ නෑ, පිරිහී යන්නේම වේ. විශේෂයක් කරා නොයන්නේම වේ. පිරිහී යන්නේම වේ. දෙපාරක් භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා. පිරිහෙනවාමයි. ආයෙ විශේෂයක් වෙන් නෑ. එයා දුශ්ශීලයි, ඒ දුශ්ශීලකමේම ඉන්නවා, එතනින් එහාට කිසිදෙයක් එයා දන්නෙ නෑ. ඊටපස්සෙ දෙවෙනි එක තමයි ආන්න තවත්

එක්කෙනෙක් ඉන්නවා, ඔහුත් දුශ්ශීලයි. හැබැයි එයා චිත්ත විමුක්තියත්, ප්‍රඥා විමුක්තියත් ඒ හැටියෙන්ම දන්නවා. එයා සමථ, විදර්ශනා ගැන දන්නවා. චිත්ත විමුක්තිය, ප්‍රඥා විමුක්තිය ගැන දන්නවා. යම් ධර්මයකින් ඔහුගේ දුශ්ශීල බව ඉතුරු නැතිව නිරුද්ධ වෙයිද, ඔහු එයින් ඔහු විසින් එය ශ්‍රවණයෙන් අසන ලද්දේ, හොඳට බණ වලින් අහලා තියෙනවා. දුශ්ශීල කම නැතිවෙන විදිය. ඊටපස්සෙ බහුශ්‍රැත භාවයක්ද ලැබුවේ වෙයි. දෘෂ්ටියෙනුත් වටහා ගන්නා ලද්දේ වේ. එයත් දුශ්ශීල වුනාට, බහුශ්‍රැතයි. ඊළඟට ඒ දුශ්ශීල භාවය පිළිබඳව, ඒ දුශ්ශීලභාවය නැති කරගැනීම පිණිස මාර්ගය පිළිබඳව දැක්මක් එයාට තියෙනවා. ඉතින් හේ කය බිඳී, ඔහු කය බිඳිලා මරණින් මත්තේ විශේෂයක් කරා යයි, පිරිහීමක් කරා නොයයි. විශේෂයක් කරා යන්නේම වෙයි, පිරිහීමක් කරා නොයන්නේම වෙයි. දැන් එයා ඒ වුනාට දුශ්ශීලයිනෙ. දැන් ඉස්සෙල්ලා කෙනත් දුශ්ශීලයිනෙ. දැන් එයා පිරිහෙන් නෑ, අනෙත් එක්කෙනා කලින් කියපු එක්කෙනා පිරිහෙනවා. ආනන්දයෙනි එහිලා නොයෙක් මිනි වලින් මනින්නෝ මැන බලති. ඔන්න මිමි වලින් මනින අය මැන බලනවා. මොහු තුලත් ඒ ධර්මයම තිබේ. අනෙකා තුළත් ඒ ධර්මයම තිබේ. මෙයත් දුශ්ශීලයි, අරයත් දුශ්ශීලයි. දෙන්නම දුශ්ශීලයි. ඊටපස්සෙ එහෙනම් මොන හේතුවක් නිසාද, එක්කෙනෙක් පිරිහෙන්නෙ, එක්කෙනෙක් විශේෂයක් කරා යන්නෙ. ඒ කියන්නෙ එයාට විශේෂයක්, ඉහළ තත්වෙකට එයා පත්වෙන්නෙ කොහොමද, අනෙත් එක්කෙනා පිරිහෙන්නේ, හීන වෙන්නේ කොහොමද කියලා කෙනෙකුට හිතෙන්න පුලුවන්. ආනන්දයෙනි, මේ අයුරින් මනින්න යෑමෙන් ඔවුන්ට එය බොහෝ කලක් අහිත පිණිස, දුක් පිණිස පවතිනවා. බොහෝ කලක් අහිත පිණිස, දුක් පිණිස පවතිනවා. දැක්කද? එහෙම මනින්න එපා කිව්වා, එකම දේ තිබ්බා කියලා. ඒකෙන් දුශ්ශීලයි කියලා, මෙයත් දුශ්ශීලයි, එයත් දුශ්ශීලයි එහෙම මනින්න යන්න එපා කියලා කිව්වා. ආනන්දයෙනි, කලින් පැවසූ දෙදෙනාගෙන් මේ පුද්ගලයෙක් දුශ්ශීල වේද, චිත්ත විමුක්තියත්, ප්‍රඥා විමුක්තියත් ඒ හැටියෙන්ම දනී ද, යම් ධර්මයකින් ඔහුගේ දුශ්ශීල බව ඉතුරු නැතිව නිරුද්ධ වෙයිද, ඔහු විසින් එය ශ්‍රවණයෙන් අසන ලද්දේ ද, බහුශ්‍රැත භාවයක් ලැබුවේ වේද, දෘෂ්ටියෙනුත් වටහා ගන්නා ලද්දේද, ධර්මය තුළින් ලැබෙන විමුක්තියක් ලබයි ද, ආනන්දයනි මේ පුද්ගලයා මුලින්ම පැවසූ පුද්ගලයාට වඩා යහපත් වෙයි, උසස් ද වෙයි. එයට හේතුව කුමක්ද, ආනන්දයෙනි ධර්ම මාර්ගය විසින් ඒ පුද්ගලයාව යහපතට පමුණුවන ලද්දේය. මොවුන්ගේ වෙනස තථාගතයන් වහන්සේ හැර වෙන කවුරු නම් දනී ද?

දෙන්නාම දුශ්ශීල වුනාට එක්කෙනෙකුට ධර්මයක් තිබ්බා. එයා හොඳ බහුශ්‍රැතයි. එයා ඒ දුශ්ශීල බව නැතිකරගන්න විදිය ඒ සියල්ල පිළිබඳව හොඳට දැක්මක් තිබ්බා. නමුත් එයාගේ ජීවිතේ දුශ්ශීල වෙලා. නමුත් එයා දුශ්ශීල භාවය නැති කරගන්න හැටි සමථ, විදර්ශනා ගැන මේ දහම් මාර්ගය ගැන හොඳ වැටහීමක් තිබ්බ කෙනෙක්. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා, ඉතින් ධර්මයෙන් තමයි කිව්වා මේ වෙනස කලේ. ඉතින් මේක දකින්නෙ බුදුරජාණන් වහන්සේ නමක්. ඒ නිසා පින්වත් ආනන්ද පුද්ගලයන් නම් මනින්න යන්න එපා. පුද්ගලයන් පිළිබඳ මැනීමක් ගන්න එපා. ආනන්දයෙනි, පුද්ගලයෙක් අන්‍ය පුද්ගලයන් පිළිබඳ මැනීමකින් ගන්න යන විට ඒ පුද්ගලයාගේ ගුණ සාරා දමන්නේය. ආනන්දයෙනි මම හෝ පුද්ගලයෙක් පිළිබඳ මිම්මක් ගන්නම්. එහෙම නැත්නම් මා වැනි වෙනත් කෙනෙක් හෝ කළ යුත්තේය. බුදුරජාණන් වහන්සේ පුද්ගලයෙක් ගැන තීරණය කරාවි. නැත්නම් තවත් බුදු කෙනෙක්. ආනන්දවත් යන්න එපා කිව්වා පුද්ගලයො මනින්න නම්. මේකෙන් තේරුම් ගන්න. ඇත්තටම පින්වතුනි මෙච්චර ශ්‍රී සද්ධර්මයක් අපිට ලැබිච්ච වෙලාවේ මේ එක එක්කෙනාගේ සීලයි, මේ එක එක්කෙනාගේ චරිතයි අපිට හොයලා මොකටද. සමහර අය ඉන්නවා, එයාලගේ ජීවිතේ වැරදිලා. නමුත් එයාලා දහමෙන් පිළිසරණක් හොයනවා. එතකොට ජීවිතේ වැරදිච්ච අයයි, වැරදිලා වැරදුනු ගොඩේම ඉන්න අයයි, වැරදිලා පිළිසරණක් හොයන අයයි අතර වෙනසක් තියෙනවා. ඒ වෙනස තියෙන්නෙ ධර්මයේ. එක්කෙනෙක් ධර්මයට ඇවිල්ලා. මෙයත් කලින් වැරදි කලා, මෙයත් වැරදි කලා, මුන් ඔක්කොම යන්නෙ අපායෙ. ඒවගේ ඒවා බුද්ධ ශාසනෙන් කතා කරන්න හොඳ නෑ. පුද්ගලයෝ ප්‍රමාණය කරන්නෙ බුදුරජාණන් වහන්සේ, තවත් බුදු කෙනෙක්. වැරැද්ද තියෙන පස්දෙනෙක් ගත්තොත් ඒ පස් දෙනාගේ ජීවිත ස්වභා පහක්. ඒක අපිට තේරෙන් නෑ, අපිට පේන්නෙ ඔක්කොම එක වැරදි. අපි ගත්තොත් කොරෝනා රෝගීන් ගමු. මෙයා කොරෝනා, මෙයත් කොරෝනා, ඔක්කොම කොරෝනා. එතකොට අපි කිව්වොත් කොරෝනා රෝගීන් ඔක්කොම මැරෙනවා කියලා. එක එක්කෙනාගේ ශරීර වල ස්වභා, ප්‍රතිශක්තිකරණය, ඔරොත්තු දෙන එක, ආයුෂ, කර්ම ශක්තිය, ඔවුන් ප්‍රතිකාර කරගන්න ස්වභා, ප්‍රතිකාර කරගන්න කාලය, ඉතින් අපි අර කොරෝනා සහ මැරෙනවා කියන වචන දෙක විතරක් අල්ලලා හරියයි ද? ඒ වගේ තමයි දුශ්ශීලයි, දෙන්නම දුශ්ශීලයි මැරුණට පස්සෙ එක්කෙනෙක් විශේෂ උපතකට ගියා, එක්කෙනෙක් පිරිහෙන උපතකට ගියා. කියලා ඒ දුශ්ශීලයි, අර උපත් දෙකයි විතරක් අල්ලලා කතා කලොත් හරියයිද

කියලා මේ අහන්නෙ. ඇයි ඒ අතරට ධර්මය ආපු එක. එතකොට මේක තේරෙන්නේ බුදු කෙනෙකුට. ඒකයි මං කිව්වෙ මේ තියෙන විදියට කියාගෙන යන්නම්. ඒක තේරෙන්නේ බුදු කෙනෙකුට. ආනන්ද, පුද්ගලයො ප්‍රමාණය කරන්න එපා. එහෙනම් ඒ අවවාදය අපි ගමු. අපි පුද්ගලයො ප්‍රමාණය කරන්න හොඳ නෑ. ප්‍රමාණය කරන්න එපා, අපේ තියෙන ගුණෙත් නැති වෙනවා. අපේ තියෙන ගුණෙත් නැතිවෙනවා. ඉතින් ඒකයි. ඊටපස්සෙ දැන් බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ ඉතින් ඒකයි. දැන් අපි ගත්තොත් එහෙම ඉස්සර වෙච්චි සිද්දියක් කියන්නම්. ඒ තමයි ඔන්න පොඩි හාමුදුරුවොයි, ගුරු හාමුදුරුවොයි ඔරුවක යනවා. තව මිනිස්සු කට්ටියකුත් හිටියා. ඊටපස්සෙ ඔරුව පෙරළුනා. ඔක්කෝම ගහගෙන ගියා. දැන් අර ලොකු හාමුදුරුවොත් පීනනවා, පොඩි හාමුදුරුවොත් පීනනවා. අර ඔරුවෙ ඉඳලා වැටිච්ච කාන්තාවක් ගහගෙන යද්දි නායක හාමුදුරුවන්ගේ කරේ එල්ලුනා. ඉතින් නායක හාමුදුරුවන්ට එයාව ගහලා එලවන්න විදියක් නෑ පණ බේරගන්න ඕනනෙ. ඉතින් නායක හාමුදුරුවො පීනනවා. පීනලා ගොඩට ආව ගමන් අර ගෑණු කෙනා ඔන්න බෙල්ල අතෑරියා. ඒ ගෑණු කෙනා එතන නැවතුනා. ඉතින් නායක හාමුදුරුවො වැඩියා. පොඩි හාමුදුරුවො පීනන ගමන් මේක බලාගෙන. ඉතින් පොඩි හාමුදුරුවන්ට හොඳටම අප්සෙට්. මේ අපේ නායක හාමුදුරුවො කරපු වැඩේ හරි නෑ. බුදුරජාණන් වහන්සේ දේශනා කරලා තියෙන්නෙ තමන්ගේ මව් ගඟේ ගහගෙන ගියොත් අතින් අල්ලන්නෙ නැතිව මෙහෙම සිවුර හරි වස්ත්‍රය හරි දාන්න කිව්වා ඒකෙ එල්ලිලා අම්මා එන විදියට. ඇඟෙන් අල්ලන්න එපා කිව්වා. එහෙමනෙ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙන්නෙ. අපේ ගුරු හාමුදුරුවෝ කරපු දේ බලන්න මේ ගෑණියෙක් කරේ තියාගෙන පීනුවනෙ. ඉතින් ඔන්න ගෝල නමත් ආවා, ඊටපස්සෙ යං ගෝලනම බලන්න මේ කරදරනෙ කියලා දැන් නායක හාමුදුරුවෝ වඩිනවා. ඊටපස්සේ දැන් ගෝල හාමුදුරුවො පිටිපස්සෙන් කල්පනා කර කර යනවා, මේ බලන්න අපේ නායක හාමුදුරුවෝ හරි නෑ. මම මහණ වෙනකොට අපිට උගන්වන්නේ කොහොමද, මේ දැන් කරපු වැඩේ මොකක්ද මේ? කිය කියා ඉතින් ගිහිල්ලා වෙහෙරට ගියා ආරාමෙට. පොඩි හාමුදුරුවන්ගේ මූණ කළු වෙලා. නායක හාමුදුරුවො ඇහුවා මොකෝ පොඩි නම මේ? නෑ නායක හාමුදුරුවනේ මට ඔබවහන්සේ ගැන හරි කලකිරීමක් ආවා. ඒ මොකද? අර ගෑණියක් කරේ තියාගෙන ආවෙ. ඊටපස්සෙ කිව්වා පොඩි නම මම ඒ ගෑණු කෙනා කරේ තියාගෙන ඇවිල්ලා ගඟ අයිනෙ දාලා ආවා. ඔහේ තාම කරේ තියාගෙනනෙ.

එතකොට තමයි සිහිය ඉපදුනේ. නායක හාමුදුරුවන්ට ඒ ගැන චේතනාවක් නෑ, නායක හාමුදුරුවො අචේතනිකයි. ඒ කියන්නෙ ඇවිල්ලා නායක හාමුදුරුවො හිතලා ඒ ස්ත්‍රිය ඇල්ලුවෙත් නෑ, ඒ ස්ත්‍රිය තමන්ගේ ඇඟ අල්ලනවට නායක හාමුදුරුවො කැමති වුනෙත් නෑ. ඊළඟට වහා ගොඩට ආවා. ඊළඟට නායක හාමුදුරුවන්ට ඒ පිළිබඳව ඇවැත් දේශනා කරගෙන පිරිසිදු වෙන්න පුලුවන්. දැක්කද අනිත් එක්කෙනා අල්ලපු හැටි. දැක්ක පමණින් තීරණ වලට එන්න හොඳ නෑ. මං ඉස්සර සිද්ධියක් කිව්වෙ. එතකොට දෙන්නෙක් දුශ්ශීලයි. එක්කෙනෙකුට ධර්මය තියෙනවා, එක්කෙනකුට ධර්මය නෑ. ඒකනෙ මෙතන වෙනස. ඔන්න තව එක්කෙනෙක් බලමු. ඉතින් බුදුරජාණන් වහන්සේ කොහොමත් අවසානෙ වදාළේ, දැන් මේකෙ තේරුම් ගන්න තියෙන්නෙ මේ බුද්ධ ශාසනේ පින්වතුනි අපිට පිහිටක් හොයාගන්න ඕන. අපිට පිහිටක් හොයාගෙන අපි ගැලවිලා යන්න ඕන, මේ එක එක්කෙනාගේ වංහුං හොයන් නැතිව. ආනන්දයෙනි මෙහි ලා එක්තරා පුද්ගලයෙක් සිල්වත් වෙයි. ඔන්න ඊළඟ එක්කෙනා සිල්වත්. ඒ චිත්ත විමුක්තියත්, ප්‍රඥා විමුක්තියත් ඒ හැටියෙන්ම නොදන්නවා. එයා සිල්වත් වුනාට චිත්ත විමුක්ති, සමථ විදර්ශනා පිළිබඳව, ධ්‍යාන, විදර්ශනා නුවණ, කෙලෙස් නැසීම පිළිබඳව මෙයා මොකවත් දන්නෑ, සිල්වත්. යම් ධර්මයකින් සිල්වත් බව ඉතුරු නැතිවම නිරුද්ධ වෙයිද, ඔහු විසින් එය ශ්‍රවණයෙන් නොඅසන ලද්දේ වෙයි. සීලය වුනත් පින්වතුනි විදර්ශනා ප්‍රඥාවෙන් ඒ සීලය ග්‍රහණය කරගැනීම, ඊළඟට ඒ සීලයෙන් කලයුතු දේ, සීලය ඉක්මවා යෑම චිත්ත විසුද්ධියෙන්, සීලය තියෙන්නේ චිත්ත විසුද්ධිය පිණිසනෙ. එතකොට ඒ පිළිබඳව දන්නෙ නෑ මෙයා. ඊටපස්සෙ බහුශ්‍රැත භාවයකුත් නෑ, දෘෂ්ටියෙන් වටහාගෙනත් නෑ, ධර්මය තුළින් ලැබෙන විමුක්තියත් ලැබිලා නෑ. ධර්මය පිළිබඳව ලැබෙන විමුක්තිය කියන්නෙ ධර්මය අහලා ඒ ධර්මය තේරෙනකොට ලොකු ප්‍රීති ප්‍රමෝදයක් උපදිනවා. ඒ ධර්මය තුළින් කෙලෙස් සංසිඳිලා යනවා. ඉතින් ඒකත් මෙයාට ලැබෙන්නෙ නෑ. ඊටපස්සෙ මොකද වෙන්නෙ, කය බිඳිලා මරණින් මත්තෙ මෙයා පිරිහෙනවා. මෙයා ඉහළට යන්නෑ, මෙයාගෙ හිත ඉහළට වැඩෙන් නෑ. පිරිහීමක් කරා යනවා, විශේෂයක් කරා යන්නෙ නෑ. නැවත දේශනා කරනවා පිරිහී යන්නේම වේ. විශේෂයක් කරා නොයන්නෙක් වේ. ආනන්දයනි, මෙහිලා එක්තරා පුද්ගලයෙක් සිල්වත් වේ. ඔන්න දැන් තවත් එක්කෙනෙක්. හතරවෙනි එක්කෙනා සිල්වත්. ඒ චිත්ත විමුක්තිය, ප්‍රඥා විමුක්තිය ඒ හැටියෙන් එයා දන්නවා චිත්ත විමුක්තිය, ප්‍රඥා විමුක්තිය. සිල්වත් බව ඉතුරු නැතිව නිරුද්ධ

වෙන හැටි, සිල්වත් බව කියන එක පින්වතුනි සංකතයක් මාර්ග අංගයක්නෙ. එතකොට මාර්ග අංගෙත් නිරුද්ධ වෙනවා කියන එකක් තියෙනවානෙ. අපි දැන් සත්‍ය සිද්ධි වලින් ගමු. සීල විශුද්ධිය තියෙන්නේ චිත්ත විශුද්ධියට. එතකොට ඒ වගේ මෙයා මේක ගන්නෙ නෑ. බහුශ්‍රැත භාවයකුත් නෑ, දෘෂ්ටිය පිරිසිදු කරගෙනත් නෑ. ධර්මයෙන් ලැබෙන විමුක්තියත් නෑ, කය බිඳිලා මරණින් මත්තේ - මෙයාට මේක තියෙනවා. බහුශ්‍රැත බවත් තියෙනවා, ඊළඟට දෘෂ්ටියත් පිරිසිදුයි ඒ දහම් කරුණු ගැන. ඒකෙ අර්ථයත් දන්නවා. ඊටපස්සෙ මෙයා ධර්ම විමුක්තියත් ලබනවා. මෙයා පිරිහීමක් කරා යන්නෙ නෑ. මෙයා විශේෂයක් කරාම යනවා. එතකොට දෙන්නම සිල්වත්. දෙන්නම මැරුණා. එක්කෙනෙක් පිරිහුනා. එක්කෙනෙක් විශේෂයක් කරා ගියා. හැබැයි දෙන්නම සිල්වත්. ඉතින් ආනන්ද මේක දකින මිනිස්සු, ලෝකයා කතා කරනවා, දෙන්නම සිල්වත් නම් ඇයි එක්කෙනෙක් පිරිහුනේ, ඇයි එක්කෙනෙක් දිව්‍යලෝකෙ ගියෙ, විශේෂයක් කරා ගියෙ. එතකොට ආනන්ද, භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා ආනන්ද ඒ විදියට පුද්ගලයෝ ප්‍රමාණය කරන්න යන්න එපා. බොහෝ කාලයක් අහිත පිණිස දුක් පිණිස පවතිනවා. පින්වත් ආනන්ද, යම්කිසි කෙනෙක් අර චිත්ත විමුක්තියත් ප්‍රඥා විමුක්තියක් ගැන දන්නවාද, ඒ සීලය නිරුද්ධ වෙන තැන දන්නවාද, ඊළඟට බහුශ්‍රැත භාවය තිබ්බද, ධර්ම විමුක්තිය ලැබුනාද, මේ ආදී මේ කෙනා අර අනිත් සිල්වතාට වැඩිය වෙනස්නෙ. ආනන්ද ධර්ම මාර්ගය විසින් මේ පුද්ගලයාව එයා විශේෂයක් කරා ගෙනිච්චෙ අර සීලය නෙවෙයි. අර අතරමැද එකතුවුන ධර්මයෙන්. එතකොට ආනන්ද මේ ස්වභාවය දකින්නෙ බුදුරජාණන් වහන්සේ. ඔබ නම් ආනන්ද පුද්ගලයො ප්‍රමාණය කරන්න යන්න එපා. අන්න ඒ පුද්ගලයො මනින්න ගියාට පස්සෙ තමන්ගේ ගුණ නැතිවෙනවා. ආනන්ද, මම එක්කො පුද්ගලයෝ ප්‍රමාණය කරන්නම්, නැත්නම් මං වාගේ තව කෙනෙක්. එහෙනම් මේ පුරුෂපුග්ගල පරෝපරිය ඥාණය කියලා කියන්නෙ පුරුෂයන් ප්‍රමාණය කිරීම පිළිබඳව බුදුරජාණන් වහන්සේට තියෙන ඥාණය. ඒක බුදු කෙනෙකුට තියෙන්නෙ. එතකොට එහෙනම් පින්වතුනි බලන්න වෙනස. දැන් පස්වෙනි එක්කෙනා දිහා බලමු. ආනන්ද මෙහිලා එක්කෙනෙක් තියුණු රාග ඇත්තේ වේ. දැන් එක්කෙනෙක් ඉන්නවා තියුණු රාගයෙන් යුක්තයි. ඒ තියුණු රාගයෙන් යුක්ත කෙනා ආනන්ද, ප්‍රඥා විමුක්තියයි, චේතෝ විමුක්තියයි එයා දන්නෙ නෑ, ඒ වගේම ආනන්ද යම් ධර්මයකින් ඔහුගේ රාගය ඉතුරු නැතිව නිරුද්ධ වෙලා යනවා නම්, රාගය ඉතුරු නැතිව නිරුද්ධ වෙලා යන එකත් එයා දන් නෑ. ඒ වැඩපිළිවෙල දන්නෙත්

නෑ, ඒ ධර්මය අහලත් නෑ. බහුශ්‍රැත භාවයත් නෑ, ඊළඟට දෘෂ්ටියෙන් වටහාගෙනත් නෑ. ධර්මයෙන් ලැබෙන විමුක්තියත් නෑ. එයා කය බිඳිලා මරණින් මත්තේ පිරිහෙන ස්වභාවයට පත්වෙනවා. රාගාධික කෙනා. ඊටපස්සෙ තව ඉන්නවා කෙනෙක්, රාගාධික කෙනෙක්. රාගයෙන් යුක්තව. ඊටපස්සෙ එයා ඒ වුනාට පඤ්ඤා විමුක්තියත්, චිත්ත විමුක්තියත්, සමථ විදර්ශනා ගැනත් දැනුමක් තියෙනවා. ඒ වගේම ඔහුගේ රාගය ඉතුරු නැතිව නිරුද්ධ වෙයිද, ඒක ශ්‍රවණයෙන් අහලා තියෙනවා. බහුශ්‍රැත භාවයකුත් තියෙනවා. දෘෂ්ටියෙනුත් තේරුම් අරන් තියෙනවා. ඊළඟට ධර්මය තුළින් ලැබෙන විමුක්තියත් ඔහු තේරුම් අරන් තියෙනවා. කය බිඳිලා මරණින් මත්තේ විශේෂයක් කරා යනවා. එතකොට දෙන්නම රාග සහිත දෙන්නෙක්. දෙන්නම රාග සහිත දෙන්නෙක්. එතකොට එක්කෙනෙක් විශේෂයක් කරා ගියා, එක්කෙනෙක් විශේෂයක් කරා ගියෙ නෑ. එතකොට පුද්ගලයෙක් හිතන්න පුලුවන්, මේ දෙන්නම රාගයෙන් හිටියෙ, මේං මැරුණට පස්සෙ එක්කෙනෙක් විශේෂයක් කරා ගිහිල්ලා, එක්කෙනෙක් විශේෂ උපතකට ගිහිල්ලා, එක්කෙනෙක් පිරිහෙන උපතකට ගිහිල්ලා. එතකොට ඇයි මේකෙ වෙනස කොහොමද වෙන්නෙ. ආනන්ද එහෙම හිතන අයට බොහෝ කාලයක් අයහපත පිණිස පවතිනවා. ආනන්ද, ඔතන දෙවෙනියට කිව්ව එක්කෙනාට පඤ්ඤා විමුක්තිය, චිත්ත විමුක්තිය පිළිබඳ දැනුම තිබ්බා. බහුශ්‍රැත භාවය තිබ්බා. රාගය නිරුද්ධ වෙන එක පිළිබඳ දැක්ම තිබ්බා. දෘෂ්ටිය තිබුනා පිරිසිදුව. ඊළඟට තමයි ඔහු මේ රාගය නිරුද්ධ වෙන තැන දන්නවා. කොයි කොයි වාගේ මට්ටමකද රාගය නිරුද්ධ වෙන්නේ කියලා. ඉතින් ආනන්ද මෙතන තිබුනු වෙනස තමයි ධර්මය විසින් තමයි ඔහුව විශේෂත්වයකට පැමිණුවේ. ඉතින් ආනන්ද පුද්ගලයෝ ප්‍රමාණය කරන්න එපා. පුද්ගලයො ප්‍රමාණය කලාම තමන්ගේ ගුණ හැරෙනවා. එක්කෝ මේ පුද්ගලයෝ ප්‍රමාණය කරන එක මම කරන්නම්. නැත්නම් මම වගේ තව කෙනෙක්. බුදුරජාණන් වහන්සේ හෝ බුදුරජාණන් වහන්සේ වගේ කෙනෙක් තමයි පුද්ගලයො ප්‍රමාණය කරන එක තේරෙන්නෙ. එකම දෙයක් තිබ්බා කියලා එහෙම මිනිස්සු වෙන් කරන්න බෑ, වර්ග කරන්න බෑ. එකම කර්මය. ඒකයි බුදුරජාණන් වහන්සේ දේශනා කලේ, ප්‍රාණඝාතය කරන කෙනා දෙන්නාම එකම නිරයට යනවා කියලා එකක් නෑ. එහෙම නම් ප්‍රාණඝාතය කරපු කෙනා නිරයේ යනවා කියන එක ඒකාන්තයි නම් කිසි කෙනෙකුට මාර්ගඵල ලබන්න බැනෙ. ඇයි මාර්ගඵල ලබන අයත් කලින් ප්‍රාණඝාත කලානෙ. දැන් අපි ගත්තොත්

අංගුලිමාලයන් ප්‍රාණඝාත කලානෙ. නිවන් දැක්කෙ. ඒක තමයි මේක කොහොමද වෙන්නෙ කියලා දකින්නෙ බුදුරජාණන් වහන්සේ. ඒ නිසා පුද්ගලයෝ ප්‍රමාණ කරන්න එපා. දැන් අපි පින්වතුනි ධර්ම දේශනා කරනකොට අපි වැරදි කාමසේවනයේ, දරුවන් ගබ්සා කිරීමේ, ඊළගට මේ ළමයි ටෙලිෆෝන් පාවිච්චි කිරීමේ මේවගේ ආදීනව මේ වගේ කර්ම වලට යන නිරයවල්වල විස්තර එහෙම විස්තර කරනවා. ඒ කර්ම වල තියෙන විපාක පිළිබඳව. නමුත් කෙනෙක්ගේ ජීවිතේට ධර්මය ආවොත් එකම වැරැද්ද, අපි කියමු දෙන්නෙක් ඉන්නවා. සල්ලාලකම් කරන පිරිමි දෙන්නෙක් ඉන්නවා. අපි කියමු ගණිකා වෘත්තියේ යෙදෙන දෙන්නෙක් ඉන්නවා. ඒ දෙන්නගෙන් එක්කෙනෙකුට ධර්මය අහුවෙනවා, එක්කෙනෙකුට ධර්මය අහුවෙන්නෙ නෑ. ඒ අය මරණින් මත්තෙ දෙන්නම එක තැනකට යන්නෙ නෑ. මොකද ඒ දෙන්නගෙ තැන් දෙක වෙනස් කරනවා ධර්මය විසින්. මේක තේරෙන්නෙ මේක කොහොමද වෙන්න කියලා බුදු කෙනෙකුට. ඒ නිසා මේ ලෝකයේ තියෙන ස්වභාවය බලලා මිනිස්සුන්ට ප්‍රමාණය කරන්න එපා කිව්වා. මිනිස්සුන්ට වෙන වෙනම titles දෙන්න එපා කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කලේ. ඉතින් ඒ නිසා පුද්ගලයෝ ප්‍රමාණය කරන්න එපා පින්වත් ආනන්ද. ඒක බුදු කෙනෙක් කරන්නම්. නැත්නම් බුදු කෙනෙක් වගේ කෙනෙක්. එතකොට බුදුරජාණන් වහන්සේ විස්තර කලා ආනන්ද, මෙහිලා එක්කෙනෙක් ඉන්නවා ක්‍රෝධ සිත් ඇත්තේ වේ. ඒ ක්‍රෝධ සිත් තියෙන කෙනත් චිත්ත විමුක්තියයි, ප්‍රඥා විමුක්තියයි ඒ හැටියෙන් දන් නෑ. යම් ධර්මයකින් ඔහුගේ ක්‍රෝධය ඉතුරු නැතිව නිරුද්ධ වෙනවාද ඔහු විසින් ඒක ශ්‍රවණයෙන් අහලා නෑ. බහුශ්‍රැතභාවයකුත් ලබලා නෑ, දෘෂ්ටියකින් වටහාගෙන නෑ. ධර්මය තුළින් ලැබෙන විමුක්තියක්ද ලබලා නෑ. කය බිඳිලා මරණින් මත්තෙ ඔහු පිරිහීමක් කරා යයි. විශේෂත්වයක් කරා නොයයි, පිරිහී යන්නේම වේ. විශේෂයක් කරා නොයන්නෙක් වෙයි. ඔන්න ඔය ක්‍රෝධය තියෙන. තව තියෙනවා ක්‍රෝධය තියෙන එක්කෙනෙක් ඉන්නවා. එයා චිත්ත විමුක්තියයි, ප්‍රඥා විමුක්තියයි දන්නවා. ඔයාගේ ක්‍රෝධය ඉතුරු නැතිව නිරුද්ධ වෙන යම් ධර්මයක් තියෙනවාද, ක්‍රෝධය නිරුද්ධ කරන ධර්මය එයා ඒක අහලා තියෙනවා. ඊළඟට බහුශ්‍රැත වෙලා තියෙනවා. එයාගේ ඒ ධර්ම දැක්ම හදාගෙන තියෙනවා. ධර්මයෙන් ප්‍රීති ප්‍රමෝදය ලබන කෙනෙක්. හැබැයි ක්‍රෝධය තියෙනවා. මෙයා මැරුණට පස්සෙ විශේෂයක් කරා යනවා. එතකොට මිනිස්සු කල්පනා කරනවා අනිත් අය හිතනවා, දෙන්නම තරහා තිබ්බා. දෙන්නටම ක්‍රෝධය තිබ්බා. මොකද මේ මැරුණට පස්සේ එක්කෙනෙක්

පිරිහුනේ. එක්කෙනෙක් විශේෂයක් කරා ගියෙ. ආනන්ද එහෙම හිතන්න හොඳ නෑ. ඒක අහිත පිණිස, දුක පිණිස පවතිනවා. ආනන්ද එක්කෙනෙක්ගේ ජීවිතේට ධර්මය තිබ්බානෙ. එයා ප්‍රඥා විමුක්තියයි චේතෝ විමුක්තියයි දැනගත්තා, අහලා තිබ්බා. බහුශ්‍රැත භාවයක් තිබ්බා. දෘෂ්ටිය පිරිසිදු කරගනෙ තිබ්බා. ධර්මයෙන් දහම් විමුක්තිය ලැබුවා. ඉතින් ඒ නිසා ධර්මයෙන්නෙ එයා විශේෂයක් කරා පැමිණුවෙ. ඉතින් ආනන්ද, ඒ නිසා පුද්ගලයෝ නම් ප්‍රමාණය කරන්න යන්න එපා. තමන්ගේ ගුණ නැති කරගන්න එපා පුද්ගලයෝ ප්‍රමාණය කරන්න ගිහිල්ලා. එක්කෝ මේ පුද්ගලයන් ප්‍රමාණය කිරීම බුදුරජාණන් වහන්සේ කරනවා, එහෙම නැත්නම් බුදුරජාණන් වහන්සේ වගේ කෙනෙක් කරනවා. ඊළඟට අපි බලමු නවවෙනි එක්කෙනා. මෙහිලා පුද්ගලයෙක් නොසන්සුන් වේ. සිත සන්සිඳිලා නෑ. නොසන්සිඳිලා. ඒ කියන්නෙ සිත විසිරිලා. එයාගේ හිතේ චිත්ත සමාධි, ධ්‍යාන සමාධි නෑ. ඉතින් එයා ප්‍රඥා විමුක්තියයි, චේතෝ විමුක්තියයි දන්නෙත් නෑ. ඒ නොසන්සිඳීම යම් තැනක නිරුද්ධ වෙනවාද ඒ නිරුද්ධ වෙන ධර්මයත් අහලා නෑ. ඒ පිළිබඳව ධර්ම දැක්ම ඍජු කරගෙනත් නෑ. ඊටපස්සෙ ධර්ම විමුක්තිය ලබලත් නෑ. මෙයා මැරුණට පස්සෙ හීනගාමී වෙනවා, විශේෂයක් කරා යන්නෙ නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා තව එක්කෙනෙක් ඉන්නවා, එයත් හිත නොසන්සිඳිලා, ධ්‍යාන සමාධි සමාපත්තියේ සන්සිඳුනු දේවල් නෑ මෙයාගේ. නමුත් මෙයාට චේතෝ විමුක්තියයි, ප්‍රඥා විමුක්තියයි දැක්මක් තියෙනවා. ඊටපස්සෙ මෙයා නොසන්සිඳීම නිරුද්ධ වෙන ධර්මය අහලා තියෙනවා. ඒ ධර්ම දැක්මකට ඇවිල්ලා තියෙනවා. ඊළඟට මෙයා ඒ නොසන්සිඳීම නිරුද්ධ වෙන තැන දන්නවා. ධර්මයෙන් ලබන විමුක්තිය ලබලා තියෙනවා. මෙයා මැරුණට පස්සෙ විශේෂගාමිණී වෙනවා. ඉතින් ආනන්ද කෙනෙක් කියනවා, නොයෙක් මිම්වලින් බලන අය මේ දෙන්නටම නොසන්සිඳීම තිබ්බානෙ. ඉතින් කොහොමද මැරුණට පස්සේ එක්කෙනෙක් විශේෂී උපතකට ගියෙ, එක්කෙනෙක් පිරිහෙන උපතකට ගියෙ. ආනන්ද එහෙම බලන්න හොඳ නෑ. එතකොට ඒක බොහෝ කාලයක් අහිත පිණිස, දුක පිණිස පවතිනවා. ආනන්ද කලින් පැවසූ දෙදෙනාගෙන් යම් ඒ පුද්ගලයෙක් නොසන්සුන් සිතැත්තේ වේද ඒ චිත්ත විමුක්තිය ද, පඤ්ඤා විමුක්තිය ද ඒ හැටියෙන්ම දනී ද, යම් ධර්මයකින් ඔහුගේ නොසන්සුන් බව ඉතුරු නැතිව නිරුද්ධ වේ ද, ඔහු විසින් එය ශ්‍රවණයෙන්ද අසන ලද්දේ, බහුශ්‍රැත භාවයෙනුත් ලැබුවේ ද, දෘෂ්ටියෙනුත් වටහා ගන්නා ලද්දේද, ධර්මය තුළින් ලබන විමුක්තියක් ලබයිද, ආනන්දයෙනි මේ පුද්ගලයා

මුලින්ම පැවසූ පුද්ගලයාට වඩා යහපත් වෙයි. උසස් ද වෙයි. එයට හේතුව කුමක් ද? ආනන්දයෙනි ධර්ම මාර්ගය විසින් ඒ පුද්ගලයාව යහපතට පමුණුවන ලද්දේය. මොවුන්ගේ වෙනස තථාගතයන් වහන්සේ හැර වෙන කවුරුනම් දනිත් ද. ඒ නිසා ආනන්ද පුද්ගලයන්ව මනින්න යන්න එපා. පුද්ගලයන් පිළිබඳව මැනීමක් ගන්න එපා. ආනන්දයෙනි පුද්ගලයෙක් අන්‍ය පුද්ගලයින් පිළිබඳ මැනීමක් ගන්න යන විට ඒ පුද්ගලයාගේ ගුණ සාරා දමනවා. ආනන්දයෙනි මම හෝ පුද්ගලයන් පිළිබඳ මිම්මක් ගන්නම්. එහෙම නැත්නම් මං වගේ වෙනත් කෙනෙක් කළයුත්තේය. ආනන්දයෙනි බාලවූ අව්‍යක්ත වූ, බොළඳ වූ, බොළඳ ප්‍රඥා ඇති මිගසාලා උපාසිකාව කවුද? පුරුෂපුග්ගල පරෝපරියත්ත ඥාණය ඇති, පුරුෂ පුග්ගලයන්ගේ ශ්‍රද්ධාදී ඉන්ද්‍රිය ධර්මයන් ක්‍රියාත්මක වන අයුරු ඥාණයෙන් දකින තැනැත්තා කවරහුද? හරි ලස්සනට ඒ පුරාණඉසිදත්තගේ විස්තරය බුදුරජාණන් වහන්සේ අවසානෙට කියාහිටිනවා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා. ආනන්දයෙනි ලෝකයේ විද්‍යමාන වූ දස පුද්ගලයෝ මොවුහුය. ආනන්ද, යම්බඳු සීලයකින් පුරාන තෙමේ සමන්විත වූයේ ද, පුරාන බ්‍රහ්මචාරීනෙ. එබඳු සීලයකින් ඉසිදත්තයන් සමන්විත වූයේ නම් මෙහි ලා පුරාන තෙමේ ඉසිදත්තයන්ගේ මගවත් දකින්නේ නෑ. එහෙමනම් ඉසිදත්ත ගිය තැනවත් හොයන්න වෙන් නෑ පුරානට. ඒ බඹසර ඉසිදත්තට තිබ්බා නම්. ආනන්දයෙනි යම්බඳු ප්‍රඥාවකින් ඉසිදත්ත තෙමේ සමන්විත වූයේද, ඉසිදත්තට ප්‍රඥාව තිබ්බා. එබඳු වූ ප්‍රඥාවකින් පුරාන සමන්විත වුනා නම්, පුරානගේ ජීවිතේ විශේෂ වුනේ බලවත් වුනේ සීලය. අර ප්‍රඥාව මොහුට තිබ්බා නම් ඉසිදත්තට පුරාන ගිය තැනවත් හොයාගන්න වෙන්නෙ නෑ, ආනන්දයෙනි මේ පුද්ගලයන් දෙදෙනා එක් එක් අංග වලින් දුර්වල වෙලා හිටියා. ඉතින් මේ විදියට මිගසාලා සූත්‍රය දේශනා කරනවා. මේ සූත්‍රය වගේම ඊට සමානව තමයි අනිත් හයවෙනි නිපාතයේ තියෙන සූත්‍ර දේශනාවත් තියෙන්නෙ. එතකොට මේකෙ තියෙන්නෙ බුදුරජාණන් වහන්සේගේ පුරුෂපුග්ගල පරෝපරියත්ත ඥාණය. පුද්ගලයෝ මනින්න එපා කියන එක. බුදුරජාණන් වහන්සේ තමයි පුද්ගලයෙක් ජේන්නෙ. එතකොට මේ සමස්ථයක් වශයෙන් එකින් එක අපිට වචනයක් ගානෙ නොතේරුණොත්, තේරෙන්නෙ නැත්නම් මෙහෙම තේරුම් ගන්න. අපේ ජීවිත වල අගුණ තියෙන්න පුලුවන්. නුගුණ තියෙන්න පුලුවන්. ගුණධර්ම වල අඩුවැඩිකම් තියෙන්න පුලුවන්. ගුණධර්ම පුරුදු කරගැනීමට පහසු අපහසුතා තියෙන්න පුලුවන්. නමුත් මේ අයගේ ජීවිත සම්පූර්ණයෙන් වෙනස් කරන්න ඒ අයගේ දුර්වලතා වලින් නෙවෙයි, ධර්මයෙන්. ධර්මය නැති ජීවිතේ ගුණධර්ම

තිබ්බත් නැතත්, ධර්මය නැත්නම් එයාලගේ ජීවිතේ විශේෂයක් කරා යන් නෑ. අඩුපාඩු තිබ්බත්, අඩුපාඩු නැතත් එයාලගේ ජීවිතේ විශේෂයක් කරා යන්නෙ ධර්මයෙන්. මේකෙ නිතර වචනයක් ඇහුනා, බහුශ්‍රැත බව. ඊළඟට අඩුපාඩු නිරුද්ධ වෙන ධර්මය අහලා තිබීම, එහෙනම් ඔබ රාගාධික චරිතයක් නම්, ඔබ රාගය ප්‍රහාණය වීම සහ රාගය නැතිවීම පිළිබඳ ධර්මය අහලා තියාගන්න. නුවණින් විමසන්න. තේරුම් ගන්න. ධර්මය පුරුදු කරන්න. ඔබගේ හිතේ රාගය තියෙන්න පුලුවන්. නමුත් තවත් එක්කෙනෙක්ගේ රාගය තියෙනවා. එයා මොකුත් ධර්මයක් පුරුදු කරන්නෙත් නෑ. අසුභ භාවනාවක් ගැන හිතන්නෙ නෑ, ශරීරයේ පිළිකුල් බව ගැන හිතන් නෑ, අස්ථිර බව ගැන හිතන් නෑ, සීලයෙන් නැඟී හිටින්න ඕන බව හිතන් නෑ, තව එක්කෙනෙක්ගේ හිතේ රාගය තියෙනවා. එයා අසුභය පුරුදු කරන්න මහන්සි ගන්නවා. දහම් කරුණු හොයනවා. ගොඩාක් ධර්මය අහනවා. අනිත්‍යාදී දේවල් හිතනවා. කුසලයෙන් නැඟී සිටින්න ඕන කියලා හිතනවා. සසර ගමන ගැන හිතනවා. එතකොට මේ දෙන්නගේම හිතේ රාගය තිබ්බා කියලා මේ දෙන්නා එක තැනක නෙවෙයි යන්නෙ. මරණින් මත්තේ ධර්මය තියෙන කෙනා විශේෂ කෙනෙක් වෙනවා රාගය තිබ්බට. ද්වේෂය තියෙන අය ඉන්නවා. එක්කෙනෙක් ඉන්නවා මොකාක්වත් නෑ. එයා ද්වේෂයේම තමයි. තව එක්කෙනෙක් ඉන්නවා. එයා ද්වේෂයෙන් ඉන්නෙ. මෛත්‍රිය ගැන හොයනවා, මෛත්‍රියට උත්සාහ කරනවා. වැරදි අඩුපාඩු හදාගන්නවා. ගොඩාක් ධර්මය අහනවා, දහම් ප්‍රීතිය ලබනවා. නමුත් තරහා හිතේ තියෙනවා. එතකොට අර තරහා තියෙන දෙන්නෙක් ගත්තොත් අර ධර්මය තියෙන කෙනයි ධර්මය නැති එක්කෙනයි ගත්තොත් ධර්මය තියෙන එක්කෙනා විශේෂයක් තියෙනවානෙ. ඒ දෙන්නා මැරුණට පස්සෙ ධර්මය නැති කෙනා පිරිහෙනවා. ධර්මය තියෙන කෙනා විශේෂ තැනකට යනවා. මොහුව විශේෂ තැනකට ගෙනිච්චෙ තරහා නෙවෙයි, ධර්මය. කිසිම භාවනාවක්, හිත සන්සිදීමක් නෑ. භාවනාවක් කරන්න බෑ. හිත සන්සිඳෙන්නෙම නෑ. දෙන්නෙක් ඉන්නවා භාවනා කරන්න බැරි. එක්කෙනෙක් ඒ ලෝකෙම ඉන්නවා මොකවත් නෑ. තව එක්කෙනෙක් ඉන්නවා මෙයා උත්සාහ කරනවා, ධර්මය ඉගෙන ගන්නවා. ඊළඟට බහුශ්‍රැත වෙනවා. ඒ දහම් කරුණු පිළිබඳව නිරවුල් දැක්මකට එනවා. මේ දෙන්නා මැරුණට පස්සේ එක්කෙනෙක් පිරිහෙනවා, එක්කෙනෙක් විශේෂ තැනකට එනවා. ඒවා ගෙනිච්චෙ භාවනා කරගන්න බැරි එකෙන් නෙවෙයි, ධර්මය විසින්. ඒ නිසා තේරුම් ගන්න ධර්මයේ තියෙන වටිනාකම. වැඩිපුර ධර්මය අහන්න. මේවා

තේරෙන් නැතිවුනාට, තේරෙන් නෑ කියලා හිතන්නකො. ගොඩාක් අය නොසන්සිඳෙන සිතෙන්නෙ බණ අහන්නෙ. මේ කිව්ව දේ මේ අමතකයි. අවසානෙ තේරුම් ගන්න බුදුරජාණන් වහන්සේට පුරුෂ පුග්ගල පරෝපරියත්ත ඥාණය කියලා ඥාණයක් තියෙනවා. ඒකෙන් බුදුරජාණන් වහන්සේට පුද්ගලයන් ප්‍රමාණය කරන්න පුලුවන්. අපිට පුද්ගලයන් ප්‍රමාණය කරන්න බෑ, අපිට ඒ ඥාණය නෑ. බුදුරජාණන් වහන්සේ ආනන්ද ස්වාමීන් වහන්සේට පවා වදාළා, ආනන්ද මේක කරන්න එපා. ඒ ආනන්ද ස්වාමීන් වහන්සේට කිව්වෙ ඒකෙන් තමයි ධර්මය යන්නෙ බුද්ධ ශාසනයටම. ඒ නිසා අපිට ඕන නෑ අනිත් අයගේ වංහුං. අපේ ජීවිතේ අඩුපාඩු තියෙනවා නම් දෝෂ තියෙනවා නම් අපි ධර්මය පුරුදු කරමු. වැටි වැටී හරි නැගිටිමු. සියවතාවක් සිල් කැඩෙද්දි සිය වතාවක් සිල් සමාදන් වෙමු. එතකොට සීලය, එයා දුශ්ශීල කෙනෙක් වෙන්න පුලුවන්. නමුත් දුශ්ශීල ලෝකයක් ඉන්නවා සීලයක් ගැන හිතන්නෙවත් නෑ. මෙයා සියවතාවක් හරි සිල් සමාදන් වෙන්නෙ සීලයක් ගැන හිතන නිසා. මෙයා ධර්මය හොය හොයා යන්නෙ තමන්ගේ වැරදි අඩුපාඩු වලින් නැගි හිටින්න ඕන නිසා. සසර දුකින් නිදහස් වෙන්න ඕන නිසා. සසරේ භයානකකම දන්න නිසා. ඇත්තටම මේ ධර්මයේ පිහිට හොයන කෙනා මරණින් මත්තෙ විශේෂ තැනකට යනවා. ඒක කරන්නෙ ධර්මය විසින්. මෙතන ඇත්තටම පින්වතුනි මාර්ගඵල ලාභීන් ගැන යම් විස්තර මෙතන තියෙනවා, මේ දේශනා වල, මේ සූත්‍ර වල. ඊළඟට ධ්‍යාන සමාපත්ති, විදර්ශනා වලින් හිත් වඩන හැටි, මේ සූත්‍ර අස්සෙ තියෙනවා අර්ථ. ඉතින් නුවණ දියුණු කරපු ප්‍රඥාවෙන් වැටහෙන අයට මේ සූත්‍ර ගොඩාක් මීට වැඩිය අර්ථ තේරෙනවා. නමුත් අපි කෙටියෙන් තේරුම් ගමු. බුදුරජාණන් වහන්සේට. මම බුදුගුණනෙ කියන්නෙ. එතකොට මේ ධර්ම දේශනා මාලාවත් එක්ක. ඒ නිසා මට කියන්නට වුවමනා වුනේ බුදුරජාණන් වහන්සේට පුද්ගලයන් ප්‍රමාණය කිරීම ගැන විශේෂ ඥාණයක් තියෙනවා. පුරුෂපුග්ගල පරෝපරියාය ඥාණය කියලා. ඒ ඥාණයෙන් බුදුරජාණන් වහන්සේට ඕනම කෙනෙක් ප්‍රමාණ කරන්න පුලුවන්. ඒ නිසා පින්වතුනි පුරුෂ පුග්ගල පරෝපරියාය ඥාණයෙන් සමන්විත ඕනම කෙනෙක්ගේ ජීවිත වල පිරිහෙන දියුණු වෙන ස්වභාවවල් දකින අපගේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. ඊළඟට මතක තියාගන්න මේ ධර්මය ඇහුවට පස්සෙ මේ දේශනාවෙන්, එකක් තේරුම් ගන්න විශේෂ කාරණාවක්.

පුද්ගලයෝ ප්‍රමාණය කරන්න යන්න එපා. එක එක්කෙනාට මෙයා මෙහෙමයි, මෙයා මෙහෙමයි ඒවා ඕන නෑ. අපි අහිංසකව සරණක් හොයාගන්න ඕන. අනිත් එක තමයි, ධර්මය ඉගෙන ගැනිල්ලේ වටිනාකම. ඔබ රාග චරිතයක් නම් ගොඩාක් අසුභය ගැන, අනිත්‍යය ගැන, ශරීරයේ යථා ස්වභාවය ගැන ගොඩාක් ධර්මය අහන්න. හොයන්න, විමසන්න. එතකොට ඔබ විශේෂ තැනකට යනවා. තරහා යන චරිතයක් නම් මෛත්‍රිය ගැන හොයන්න ගොඩාක්. මේ අනිත්‍යය ස්වභාවය ගැන. ඊළඟට සිල්වත් වුනත්, දැන් මේකෙ තියෙනවා සිල්වත් වුනත්, සීලය නැතත් ධර්මය තියෙන කෙනාමයි ශ්‍රේෂ්ට තැනකට යන්නෙ. ඒ නිසා ධර්මයම හොයන්න. ඒ ධර්මය විසින් ඔබගේ ජීවිතය සුවපත් කරවනවා. සමහර විට ඒ ධර්මය හොයාගෙන හොයාගෙන යනකොට ඔබගේ අඩුපාඩු ඒකෙන්ම නැතිවෙලා යනවා. ඉතින් ඒ නිසා ධර්මය සුතා ගතා වචසාය පරිච්ඡිතා මනසා දිට්ඨිතා සුප්පටිවිද්දා, ආදී වශයෙන් ධර්මය අහන එක, දරාගන්න එක, වචනයෙන් පුරුදු කරන එක, විමසන එක, දෘෂ්ටිය පිරිසිදු කරගන්න එක දහම් කරුණු ගැන, ඒක බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. ඒ නිසා පුරුෂපුග්ගල පරෝපරියාය ඥාණයෙන් සමන්විත භාග්‍යවතුන් වහන්සේගේ සම්බුදු සරණ ලැබේවා.

අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ බෙල්ජියමේ පදිංචි පින්වත් නන්දනී චන්ද්‍රසේකර මහත්මිය සහ සයිප්‍රස්හි පදිංචි පින්වත් රූපා බස්නායක මහත්මිය ඇතුළු පිරිස විසින්. ඉතින් මේ පින්වතුන් විසින් රැස්කරගත්ත අප්‍රමාණ පින, ඒ වගේම භාග්‍යවතුන් වහන්සේගේ පුරුෂපුග්ගල පරෝපරියාය ඥාණයේ ආනුභාවයේ පින, මහාසෑයේ, මහාබෝධියේ ආනුභාවයෙන්, තුණුරුවන්ගේ ආශිර්වාදයෙන් ලෝකයටත් අපේ මව් රටටත් ව්‍යසනයක් වුනු වසංගතය දුරින්ම දුරු වේවා. රෝගී වූ අය ඉක්මණින්ම සුවපත් වේවා. අපේ මේ මානව වර්ගයාට නිදුක් නිරෝගී යහපත ආශිර්වාද සැලසේවා කියලා සෙත් පතමු. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා පින් පමුණුවනවා. මියපරලොව ගිය මානෙල් මැණියන්ට, සමරවීර පියාණන්ට, ඇලිස් දිසානායක මැණියන්ට සහ මාටින් බස්නායක පියාණන්ට මේ පින් අනුමෝදන් වේවා. මියගිය ඥාතීන් මේ පින් අනුමෝදන් වී පරලොව සැපයට පත්වේවා. පරමපූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි මේ භාග්‍යවතුන් වහන්සේගේ පරම නිර්මල ශ්‍රී සද්ධර්මය අපිට මේ විදියට ඉගෙන ගන්න ලැබෙන්නෙ. ඉතින් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ

නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලු ස්වාමීන් වහන්සේලා, අනගාරිකා මෑණිවරු, පැවිදි අපේක්ෂක දූපුතුන් මේ පින් බලයෙන් ධර්මාවබෝධයම ලබත්වා. ඒවගේම රැස් කරගන්නට යෙදුනා වූ සියලුම පුණ්‍ය ධර්මයන් ඒකාන්තයෙන් අනුමෝදන් වෙත්වා නන්දනී චන්ද්‍රසේකර මහත්මියට සහ සයිප්‍රස් හි පදිංචි පින්වත් රූපා බස්නායක මහත්මිය ඇතුලු පිරිසට. සුජීවත්ව සිටින ප්‍රේමදාස අයියා, රමණී අක්කා, සනත් මල්ලී, අජිත් අයියා සහ පෙරේරා මහත්මයාට මේ පින් බලයෙන් ආශිර්වාද නිදුක් නිරෝගී සුවපත්භාවය වේවා. දිනුජ පුතාට, තෙනුල් පුතාට, මෙනුදි දියණියට ඒ දූදරුවන්ට මේ පින් අනුමෝදන් වී භාග්‍යවතුන් වහන්සේගේ අනන්ත ආනුභාව බලයෙන් ධර්මය තුළින් ලබන විශේෂත්වයක් කරා යන්න මේ දරුවන්ට ගෞතම සසුනේ පිහිට ලැබේවා. ඔබ සියලු දෙනාට ගෞතම බුද්ධ ශාසනයේ පිහිට ලැබේවා. මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන් සියලු දෙනාටත්, ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ කාර්යමණ්ඩලයේ දරුවන්ට, ඒ වගේම දායකත්ව සපයන සියලු පින්වතුන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. භාග්‍යවතුන් වහන්සේ වදාළ විදියට පුද්ගලයන් ප්‍රමාණය කරන්නට අපේ සිත නොනැමේවා. අපිට අවශ්‍ය නෑ පුද්ගලයන් ප්‍රමාණය කරන්නට. භාග්‍යවතුන් වහන්සේ එපා කියලා වදාළා. ඒ දහම හිතේ රැඳේවා. ඒ වගේම පුද්ගලයෙක් විශේෂ තැනකට ගෙනියන්නේ ධර්මයෙන්. ඒ නිසා ඒ ධර්මයට අපේ ජීවිතේ නිතර රැව් පිලිරැව් දේවා. ගෞතම බුද්ධ ශාසනයේ සසර දුකින් නිදහස් වෙන්න අසිරිමත් සම්බුදු සරණ ලැබේවා කියලා සෙත් පතනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=EUXc8k6L8_g&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=38

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහනින් ඔබ අපි සරණ ගිය අපේ බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් බුදුගුණ තමයි ඉගෙන ගනිමින් පවතින්නෙ. ඉතින් පින්වතුනි මේ ධර්ම දේශනා කරන්නට අපි පොත්පත් පරිශීලනය කරනකොට තේරෙනවා මේ බුදුගුණ නම් කියලා ඉවරයක් කරන්න බැරි තරම් අප්‍රමාණ ගුණ තියෙනවා. පින්වතුනි, දැන් අපි කියමු කන්න නැතිව, කෑම නැතිව කැද ටිකක් බිබී ඉන්නවා මනුස්සයෙක්. ඒ මනුස්සයාට හොඳ ප්‍රණීත නානාප්‍රකාර ආහාර තියෙන කඩයක් හම්බවෙනවා. එතකොට ඒ මනුස්සයා ඒකෙදිනුත් කැද බොන්න ඕන නෑ. ප්‍රණීත ප්‍රණීත කෑම කනවා නම්. ඒ වගේ තමයි මේ ලෝකෙ අපිට මෙච්චර කාලයක් මුණගැහුනු ශාස්තෘවරු ඉන්නවා. අපිත් එක එක ආගම් අදහමින් සංසාරයේ හිටපු අය. අපිට කිසිම ශාස්තෘවරයෙක් සංසාරේ මුණගැහුන් නෑ ආගමික නායකයෙක්, මෙතරම් ගුණ කියන්න පුලුවන්, මෙතරම් ගුණ අහන්න පුලුවන්. අපි ඒ නිසා එයාලගේ පොත්පත් වල එයාලා කියපු දේවල් මුලු ජීවිත කාලෙම කිය කියා අහසට අත් උස්ස උස්සා අපි සංසාරේ හිටියෙ. එතකොට දැන් අපිට මුණ ගැහුනා තුන්ලෝකයේම අසහාය ශාස්තෘන් වහන්සේ. මේ අපේ ශාස්තෘන් වහන්සේගේ බුදුගුණ කඳ කියලා ඉවර කරන්නත් බෑ, අහලා ඉවර කරන්නත් බෑ. ඒ නිසා මේ ලැබිච්ච වෙලාවේ අපි නොකියා ඉන්න එකත් අපිට හොඳ නෑ, සසරට සාපයක්. ඇයි ගුණ කියන්න පුලුවන් කෙනෙක්ගෙ ගුණනෙ ලැබුනේ. අහන්නැතිව ඉන්න එපා, අහන්නැතිව ඉන්න එක සාපයක්. අහන්න පුලුවන් කෙනෙක්ගේ ගුණනෙ ලැබුනෙ. අපිට බුදුරජාණන් වහන්සේ නමක් මුණ නොගැසුනා නම් අපි වර්ණනා කරන්නේ ස්ත්‍රීන් ගැන. සිසිවන උවන ඉඟ සුඟ ගත හැක මිටින, ඔය වර්ණනා කරලා තියෙන්නෙ. එතකොට අපි මේ ලෝකයේ දේවල් වර්ණනා කරන්නෙ. ස්ත්‍රීන් පුරුෂයන් රජවරු, රජවරුන්ට කොච්චර ප්‍රශස්ති ගීත තියෙනවාද. ඔවුන් වෙනුවෙන්නෙ අපි ඒවා කිය කියා ඉන්නෙ. වන්දිබට්ටයො වෙලා. ඒවා කිය කියා ඉඳියි අපිත්. ඒ නිසා මේ අශ්‍රැතවත් පෘථග්ජන ලෝකය වර්ණනා කර කර ඒවම අහගෙන ඉන්න වෙයි. දැන් ඔය

වෙනත් තැන්වල තියෙන්නෙ. ඒ නිසා මේ දුකින් නිදහස් වෙන්න. මේ සාපයෙන් නිදහස් වීම පිණිස ලොව්තුරා බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ අපි කියන්න ඕන, බුදුගුණ අහන්න ඕන. ඒ නිසා අදත් බුදුරජාණන් වහන්සේගේ අපූරු ඥාණයක් අද අපි ඉගෙන ගන්නෙ අධිදේව ඥාණ දස්සන ඥාණය. අධිදේව ඥාණ දස්සන, දෙවියන් පිළිබඳව දකින ඥාණය. ඒක පුදුම සහගත ඥාණයක්. ගොඩක් අය අහලත් නෑ. ඒ නිසා අපි අද ඒක ඉගෙන ගනිමු, බුදුරජාණන් වහන්සේ තුළ තියෙන ඥාණයක්. ඉතින් අද ඒ අසිරිමත් සම්බුදු ඥාණය ඔබට අහන්න සලස්වන්නේ ශ්‍රද්ධා රූපවාහිනියෙන්, ලක්විරු ගුවන් විදුලියෙන් ඇමරිකාවේ පින්වත් රණවීර මහත්මිය විසින්. එතුමිය මියපරලොව ගිය ඥාතීන්ට පින් අනුමෝදන් කරන්නටත් බොහෝ දෙනාට සැපය පිණිසත් මේ භාග්‍යවතුන් වහන්සේගේ උතුම් ගුණ කඳ අහන්න සළස්වනවා. ඉතින් මේ පින්වත් රණවීර මහත්මියට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා, ධර්මදානය දුන්නු පින බොහෝ කාලයක් හිත හිතා සතුටු වෙන්න පුලුවන්. මෙලොවත්, පරලොවත් යහපත පිණිස පවතිනවා. ඉතින් ඒ නිසා අපි අද ඉගෙන ගනිමු බුදුරජාණන් වහන්සේගේ ඥාණය, අධිදේව ඥාණ දස්සනය. ඥාණ දර්ශනයක් මේක. එතකොට අපි ඉගෙන ගත්තා මහා කම්ම විභංග ඥාණය. බුදුරජාණන් වහන්සේගේ කර්ම විභාග කරන එක. ඉතින් ඒ කම්ම විභංග ඥාණයෙන්ම තමයි බුදුරජාණන් වහන්සේ දකින්නේ ලෝකයේ සත්ත්වයාගේ ආයුෂ අඩු වෙන්නේ සසරේ ප්‍රාණඝාත කරපු නිසා. මේ ලෝක සත්ත්වයා ලෙඩ වෙන්නේ සංසාරයේ සත්ත්වයන්ට හිංසා කරපු නිසා. ඊළඟට ලස්සන වෙලා උපදින්නේ මෛත්‍රිය නිසා. කැතවෙලා උපදින්නේ ක්‍රෝධය නිසා. ඊළඟට භවබෝග ඇතිව උපදින්නේ සංසාරයේ දන් දීම නිසා. දුප්පත් වෙලා ඉපදෙන්නේ සංසාරයේ දන් නොදුන් නිසා. ඊළඟට කටහඬ, මිහිරි වචනයෙන් පින් කරපු නිසා. ඊළඟට පිරිස් පිරිවරාගෙන දන් දුන්නොත් තමන්ට පිරිවර සම්පත්තිය ලැබෙනවා. පිරිස් පිරිවරාගන්නැතිව දන් දුන්නට පස්සේ භවභෝග සම්පත් ලැබෙනවා, පිරිස නෑ. ඒ කර්මය තේරෙනවා. භාග්‍යවතුන් වහන්සේට අවබෝධයි. ඒ අවබෝධ ඥාණය භාග්‍යවතුන් වහන්සේ දේශනා කලා. ඒ ඔක්කෝම භාග්‍යවතුන් වහන්සේගේ කම්ම විභංග ඥාණය. කර්ම විපාක පිළිබඳව තේරෙන. එතකොට චූලකම්ම විභංග සූත්‍රය, මහා කම්ම විභංග සූත්‍රය මේ ඔක්කෝම භාග්‍යවතුන් වහන්සේගේ කර්ම විභාගයත් එක්ක තියෙන්නෙ. අපායසංවත්තනික සූත්‍රය, මේ ඔක්කොම කර්ම විපාක පිළිබඳව. තව තියෙනවා සංසප්පනි පරියාය සූත්‍රය. ඒ ගොඩක තියෙනවා. ඒකයි මං කිව්වේ

බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ උලුප්පනවා නම් හැම සූත්‍රයකම තියෙනවා බුදුගුණ. ඇයි ඉතින් ඒ බුදුගුණ තුළ පිහිටලා, දසබල ඥාණ, සිව් විශාරද ඥාණ තුළ පිහිටලා, අසාධාරණ ඥාණ තුළ පිහිටලා, මහා කම්ම විභංග ඥාණයේ පිහිටලා භාග්‍යවතුන් වහන්සේ මේවා දේශනා කරන්නෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේ තියෙනවා පුරුෂ ඉන්ද්‍රිය ඥාණය, ඊළඟට පුරුෂ පුග්ගල පරෝපරිය ඥාණය අපි ඉගෙන ගත්තා. ඇත්තටම අපිට මේවා සිහි කර කර සිහි කර කර වන්දනා කර කර ශාස්තෘන් වහන්සේ මුළු හදවතින්ම සරණ යන්න ලැබෙන එක කොයිතරම් වාසනාවක්ද. මැරෙනකල් ඒ සරණ සිහි කර කර ඉන්න ඕන. ඒකයි හැම වැඩ සටහනකම තිසරණ සරණ යන්න කියලා කියන්නෙ. ඒ සරණ හදවතේ පිහිටියොත් බුදුරජාණන් වහන්සේගේ ධර්මය අවබෝධ කරගන්න එයා භව්‍යයි, සුදුස්සෙක් වෙනවා. මාර්ගය පුරුදු කරන්න සුදුස්සෙක් වෙනවා එයා. ඉතින් ඒ නිසා ඊළඟට පුරුෂ පුග්ගල පරෝපරිය ඥාණයෙත් ඒක තේරුම් ගත්තා. දැන් ධර්මය නිතර අහන ධර්මයෙන් සිත පිනා යන, ප්‍රීතියට පත්වෙන, දහම් අර්ථ තේරුම් ගන්න කෙනා සමාජයේ අනෙක් අයට වැඩිය එයා වෙනස්. දැන් ධර්මය ඉගෙන ගන්නවා, ධර්මයෙන් සතුටු වෙනවා ගොවියෙක්. එතකොට කුඹුරු කොටන අනික් ගොවියන්ගෙන් ඒ ගොවියා වෙනස්. එතකොට අනිත් අය යන තැනට නෙවෙයි එයා යන්නෙ. ඊටපස්සෙ රජයේ රස්සාවක් කරන කෙනෙක් මේ ධර්මය අහනවා. ඉගෙන ගන්න ළමයෙක් අහනවා. කැම්පස් එකේ ළමයෙක් අහනවා. මේක භික්ෂූන් වහන්සේ නමක් අහනවා. එතකොට එයාලා අනිත් අය යන තැනට නෙවෙයි යන්නෙ. ඒ ධර්මය ඇසීම, ධර්මය තේරුම් ගැනීම, ප්‍රීති ප්‍රමෝදයට පත්වීම, ඒ ධර්මයේ අර්ථ වටහා ගැනීම, සරණ යෑම, ඒකෙන් ඒ කෙනාව විශේෂ තැනකට අරන් යනවා. එතකොට ඒ එකම මට්ටමට ඔක්කොම එකවගේ හිටියා කියලා පුද්ගලයො ප්‍රමාණ කරන්න බෑ, එයාලගේ හිත ඇතුලේ වැඩ කරන විදිය. ඒ පුද්ගලයො ප්‍රමාණ කිරීම පිළිබඳව ඥාණෙ තියෙන්නෙ බුදුරජාණන් වහන්සේට. ඒකයි බුදුරජාණන් වහන්සේගේ පුරුෂ පුග්ගල පරෝපරියාය ඥාණය කියලා කියන්නෙ. අද අපි ඉගෙන ගන්නවා අධිදේව ඥාණ දර්ශනය. අධිදේව ඥාණ දර්ශනය කියලා කියන්නෙ, බුදුරජාණන් වහන්සේ ඒක මෙහෙම වදාළේ. දැන් මේ සූත්‍ර දේශනාව අංගුත්තර නිකායේ පස්වෙනි පොත් වහන්සේගේ අට්ඨක නිපාතයේ, චාපාල වග්ගයේ තියෙන අධිදේව ඥාණ දස්සන සූත්‍රය. අධිදේව ඥාණ දර්ශනය ගැන වදාළ දෙසුමක්. බුදුරජාණන් වහන්සේ ගයාවේ ගයා ශීර්ෂයේ වැඩ සිටි සේක. ගයාවේ ගයා ශීර්ෂය අදටත් තියෙනවා. මම ගිහිල්ලා තියෙනවා. එතකොට ඒකට එක

එක නම් කියනවා. ප්‍රාග් බෝධිය කියලා කියනවා. නෑ ගයා ශීර්ෂය කියන නම අදටත් තියෙනවා. ප්‍රාග් බෝධිය කියලා කියන්නෙ දුර්ගේෂ්වරී වලට. ගයාවේ නගරයට ඇත පේනවා ඒ පර්වතය. අද ඒ පර්වතය මුදුනේ දෙවි දේවතාවුන් වහන්සේලාට කෝවිල් හදලා. හැම පර්වතයකම කෝවිලක් කොතනක හරි තියෙනවා. ගයා ශීර්ෂයේ තමයි බුදුරජාණන් වහන්සේ උරුවෙල් කාශ්‍යප, නදී කාශ්‍යප, ගයා කාශ්‍යප කියන තුන්බෑ ජටිලයන් සහිත ඒ දාහ පැවිදි කරගෙන බුදුරජාණන් වහන්සේ වැඩ හිටියේ ගයා ශීර්ෂයේ. ඒ ගයා ශීර්ෂයේ ආදිත්ත පරියාය සූත්‍ර ධර්මය දේශනා කරනකොට තමයි ඒ පිරිස අර්හත්වයට පත්වුනේ. ගයා කාශ්‍යප හිටපු තැන තමයි, අද විෂ්ණුපාද ටෙම්පල් කියලා බුදුරජාණන් වහන්සේගේ සිරිපා අදටත් තියෙනවා. කළුගලේ බුදුරජාණන් වහන්සේගේ සිරිපා පිහිටලා. දැන් මේ පිරිසිදු කිරි වත්කරනකොට ඒ සිරිපතුල කිරි වලින් පිරිලා පතුල පේන්න ගන්නවා. දික් විලුඹින් යුතු, දික් ඇඟිලි වලින් යුතු, මනා සේ පොළොවේ පිහිටන උතුම් සිරිපා සටහන දකින්න ලැබෙනවා. ඉතින් දකුණු සිරිපා එහි වැඩ ඉන්නෙ. වම් සිරිපා සමනොළ කන්දේ. ඉතින් ඒ සිරිපා වඳිනකොට හරීයට සතුටු හිතුනා, බුදුරජාණන් වහන්සේගේ වම් සිරිපායි, දකුණු සිරිපායි සිරිපා සඟලම වඳින්න ලැබුනා කියලා. ඉතින් ඒ නිසා පින්වත්නි, ඒ ගයා ශීර්ෂයේ බුදුරජාණන් වහන්සේ වැඩ හිටියේ. බුදුරජාණන් වහන්සේ සංඝයා අමතා වදාළා. භාග්‍යවතුන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, සම්බුද්ධත්වයට පත්වෙන්න පෙර, සම්බුද්ධත්වයට පත්වෙන්න කලින් සිද්ධාර්ථ බෝධිසත්ත්ව කාලේ භාවනාවෙන් සමාධියෙන් වෙර වඩා සමාධිය වඩනකොට ඒ සමාධිය තුළ මට ආලෝකය පේන්න ගත්තා. සමාධි ආලෝකය තියෙනවා. එතකොට ඒ සමාධි ආලෝකය තුළින් දෙවියන් දිහා බලද්දිත් ආලෝකයක් විදියට පේන්නෙ. එතකොට ආලෝකයක් පේනවා. එතකොට හිතුනා මට, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මට හිතුනා මට මේ සමාධි ආලෝකය තියෙනවා භාවනාව තුළ. නමුත් මට මේ රූප පේන් නැනෙ. මේ දෙවිවරුන්ගේ රූප. එතකොට අධිදේව ඥාණ දර්ශනය කියන්නෙ මේ ඔක්කෝම එකතු වෙලා. අවසානෙට කාරණා අටක් තියෙනවා පින්වත්නි. ඉතින් පින්වත් මහණෙනි මට ඒ අදහස ඇතිවුනාට පස්සේ මං ඒ ආලෝකයත් හඳුනා ගන්නවා නම්, මට ඒ රූපත් පේනවා නම් මේ මගේ ඥාණ දර්ශනය ගොඩාක් පිරිසිදු වෙනවා නම් හොඳයි කියලා කල්පනා කරලා මම තව තව වීර්යය කරනකොට භාවනාව හිත දියුණු කරනකොට මගේ ඒ ඥාණ දර්ශනය හොඳට පිරිසිදු වෙලා ගියා. භාවනා ආලෝකයත් තියෙනවා සමාධිය තුළ,

රූපත් පේනවා. දෙවිවරුන්ගේ රූපත් පේනවා. හැබැයි දෙවිවරුන්ගේ රූප පෙනුනට ඒ දෙවිවරුත් එක්ක කතා කරන්න බෑ. ඊළඟට සාකච්ඡා කලේ නෑ, කතා කලේ නෑ, දෙවිවරු පේනවා. එතකොට කතා කරන් නෑ, ඊළඟට සාකච්ඡා කරන් නෑ, දෙවිවරුත් එක්ක ඉන්න බෑ. නමුත් පේනවා දෙවිවරු. ඉතින් මට හිතුනා, බුදුරජාණන් වහන්සේ වදාළා, බෝධිසත්ත්ව කාලෙදිම හිතුනා, මට මේ දෙවිවරුත් එක්ක කතා කරන්න ඇත්නම්, දෙවිවරුත් එක්ක එකට ඉන්න ඇත්නම්, දෙවිවරුත් එක්ක සාකච්ඡා කරන්න ඇත්නම් කියලා. ඉතින් මම එහෙම හිතලා හොඳට සමාධිය දියුණු කලා. ඒ සමාධිය මම හොඳට දියුණු කරනකොට දියුණු කරනකොට ඔන්න ටික කාලයකින්ම මාගේ ඥාණ දර්ශනය පිරිසිදු වෙලා ගියා. ඒ තමයි මට දැන් දෙවිවරු මට සමාධි ආලෝකයත් තියෙනවා, රූපත් පේනවා, දෙවිවරුත් එක්ක එකට ඉන්නවා, කතාබස් කරනවා, සාකච්ඡාවටත් පැමිණෙනවා. ඉතින් මට හිතුනා මං මෙහෙම හිටියට මම දන්නෑ මේ දේවතාවෝ අසවල් අසවල් දේව නිකායෙන් පැමිණියේ කියලා මේ දෙවිවරු, දැන් එක එක දෙවිවරු ඉන්නවානෙ. දැන් මනාපකායික ඉන්නවා. කිඩ්ඩාපදූෂික ඉන්නවා. ඊළඟට එක එක දෙවිවරුන්ගේ ස්වභාවවල්. චාතුම්මහාරාජික, ඊළඟට සුර අසුර, එක එක දේව නිකායවල් තියෙනවා. එතකොට ඒ දෙවිවරු දැක්කට මේ දෙවිවරු කොයි නිකායෙන්ද ආවෙ කියලා හිතට වැටහෙන් නෑ, එතකොට මට හිතුනා මේ දෙවිවරු කොයි නිකායෙන්ද ආවේ කියලා තේරුම් ගන්න පුලුවන් තරමටම මගේ හිතේ ඥාණ දර්ශණය වැඩෙනවානම් හොඳයි කියලා. එහෙම හිතලා මං ආපහු සමාධිය දියුණු කරනකොට, දියුණු කරනකොට, දියුණු කරනකොට හොඳට ඥාණ දර්ශනය පිරිසිදු වෙලා මටම දැනගන්න ලැබුනා, දැන් භාග්‍යවතුන් වහන්සේට බෝධිසත්ත්ව කාලෙදිම අවබෝධ වෙනවා මේ දෙවියා අහවල් නිකායෙන් ආවෙ, අහවල් තැන, ඉන්නෙ අහවල් තැන කියලා ඒ දෙවියාගේ සියලු විස්තර ටික හිතට එනවා දකිනකොටම. ඒ දේවතා ඥාණ දර්ශනය. හැබැයි එහෙම ආවට මේ දෙවිවරු දිව්‍ය ලෝකෙට ආවෙ අහවල් කර්ම විපාකය කරලා. මේ කර්මය කරලා ඒකෙ විපාකයක් විදියට තමයි මේ උපන්නේ කියලා ඒ දෙවිවරු දිව්‍යලෝකෙ ඉපදුනේ මොන කර්මයක් කරලද කියලා හිතෙන් නෑ. එතකොට මහාබෝධිසත්ත්වයන්ට හිතුනා මට මේ දෙවිවරු දැක්කට පස්සෙ මේ දෙවිවරු අහවල් කර්මය කරලයි මේ දිව්‍යලෝකෙ ඉපදුනේ කියලා දකින්න පුලුවන් නම් හොඳයි කියලා. ඔන්න ආයෙක් හොඳට සමාධිය දියුණු කරනකොට, දියුණු කරනකොට ඒ ඥාණ දර්ශනයෙන් මහා බෝධිසත්ත්වයන්ට වැටහුනා

පෙනෙන්න ගත්තා, මේ කර්මය කරලයි මේ දෙවියා මෙතෙන්ට ආවෙ. එතකොට බුදුරජාණන් වහන්සේට යම් දෙවියෙක් පෙනුනොත් ඒ දෙවියා මොන නිකායෙන්ද ආවෙ, මොන කර්මය කරලාද ඒ දිව්‍යලෝකෙ ඉපදුනේ, ඒ ඔක්කොම පේනවා. ඒ පේන ඥාණය මොකක්ද? අධිදේව ඥාණ දර්ශනය. ඒක පේනවා. ඒක බෝධිසත්ත්ව කාලෙම වැඩුවෙ. ඊටපස්සෙ මහා බෝධිසත්ත්වයෝ කල්පනා කලා, මට දැන් දෙවිවරු අහවල් කර්ම විපාකයෙන් මෙහි උපන්නා කියලා පේනවානෙ. මට ඒ වගේම ඒ දෙවිවරු එක එක ඒවා කනවා බොනවා සැප දුක් විඳිනවා, දැන් දිව්‍යලෝකෙ ඉපදෙන්න කර්මයනෙ දැක්කෙ. මේ කන බොන, සැපදුක් විඳින මේ අය විඳින දේවල්, කනබොන දේවල්, ඒවා කොයි කර්මානුරූපවද ඒවා ලැබෙන්නෙ. ඒක දකින්න ඇත්නම් හොඳයි කියලා හිතුනා. එහෙම හොඳයි කියලා හිතලා සමාධිය හොඳට පිරිසිදු කරනකොට, පිරිසිදු කරනකොට වෙරවීරියෙන් ඔන්න ඥාණ දර්ශනය ඇතිවුනා ඒ දෙවිවරු කෑමක් ගත්තත්, සැපක් වින්දත්, යම්කිසි විඳීමක් ලැබුවත් ඒ සියල්ලම අහවල් අහවල් කර්ම වල විපාක කියලා මහාබෝධිසත්ත්වයන්ට පේන්න ගත්තා ඥාණ දර්ශනයෙන්. ඕනම දෙවියෙක්ගෙ. ඊටපස්සෙ බෝධිසත්ත්වයන්ට හිතුනා, මේ දෙවිවරුන්ගේ ආයුෂ කොච්චරද තියෙන්නෙ කියලා ඒ දෙවියා දැක්කම අහන්නැතිව ඔහුගෙන් දකින ඥාණයක් ලබාගන්න ඇත්නම් හොඳයි කියලා ඥාණය පිරිසිදු කරගන්න ඇත්නම් හොඳයි කියලා මහා බෝධිසත්ත්වයන්ට හිතුනා. එතකොට ඒ සමාධියම නැවැත නැවැත නැවැත පුරුදු කලා. එතකොට ඒ පුරුදු කරනකොට ඒ දෙවියන්ගේ ආයුෂ කොච්චරක්ද කියලා ඒ ඥාණ දර්ශනයට පේන්න ගත්තා. එතකොට භාග්‍යවතුන් වහන්සේට දෙවියෙක් දැක්කම ඒ දෙවියාගේ රූපය, සැපදුක, ආපු නිකාය, කනබොනදේවල් ආපු කර්මය, කනබොන දේවල් විඳින දේ ඒවා කරපු පින්, ආයුෂ පවා පේනවා භාග්‍යවතුන් වහන්සේට. ඒක ඥාණ දර්ශනය. අධිදේව ඥාණ දර්ශනය. ඊටපස්සෙ බෝධිසත්ත්වයෝ කල්පනා කලා, මට මේ දෙවියන්ගේ ආයුෂ පේනවා. මෙවැනි වූ දීර්ඝායුෂ මේ මේ වගේ ආයුෂ තියෙනවා කියලා. ඊටපස්සෙ නමුත් මට දැනගන්න උවමනාවක් තියෙනවා, මම කලින් මේ දෙවිවරු එක්ක වාසය කරලා තියෙනවාද, මේ දෙවිවරුත් එක්ක කලින් වාසය කරලා තියෙනවාද කියලා බලන්න හිතුනා ඒ දෙවිවරුත් එක්ක. කලින් ජීවිත වල ඉඳලා තියෙනවාද කියලා. ඊටපස්සෙ සමාධිය හොඳට වඩනකොට වඩනකොට වඩනකොට භාග්‍යවතුන් වහන්සේට පේනවා, මහා බෝධිසත්ත්වයන්ට සංසාරයේ ඔවුන් එක්ක හිටපු ඒවා. එතකොට

භාග්‍යවතුන් වහන්සේට යම් දෙවිකෙනෙක් පෙනුනොත් මේ දෙවියාගේ රූපය, වයස, කනබොන දේවල් ආපු කර්ම, ඊළඟට ඒ දෙවියයි සංසාරේ මහාබෝධිසත්ත්වයෝ පෙරුම් පුරාගෙන එන ගමනේ බෝධිසත්ත්වයන්ට ඔහු මුණගැහිලා තියෙනවාද කියලත් දන්නවා. ඒකට කියනවා අධිදේව ඥාණ දර්ශනය කියලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දැක්කා මේ විදියට මේ සියල්ලම ඥාණ දර්ශනය වඩාත්ම පිරිසිදු වුනා. මහණෙනි, මම පසු කාලයේ අප්‍රමාදීව කෙලෙස් තවන වීර්යයෙන් යුතුව කාය ජීවිත දෙකේ අපේක්ෂා නැතිව වාසය කරන්නෙමි. ආලෝකයද හඳුනමි. රූපය ද හඳුනමි. ඒ දෙවියන් සමඟ සිටීම කතා බස් කිරීම, සාකච්ඡා කිරීමට පැමිණියෙමි. මේ දේවතාවෝ අසවල් අසවල් දේව නිකායෙන් දෙවිවරුන් අහවල් අහවල් දේව නිකායේ දෙවිවරු කියලත් මම දැනගත්තා. මේ මේ කර්ම විපාක වලින් තමයි චුත වෙලා දිව්‍යලෝකෙ ඉපදුනේ කියලත් මම දැනගත්තා. මේ සැපදුක් විඳින්නේ මේ දෙවිවරු අහවල් අහවල් කර්ම කරලා කියලත් දැනගත්තා. මෙබඳු වූ දීර්ඝායුෂ ඇති කියලා ඒ අයගේ ආයුෂත් දැනගත්තා, බොහෝ කල් සිටින දෙවිවරු කියලා. මේ දෙවිවරුන් සමඟ මමත් කලින් භවයන්හි වාසය කළ විරූද, වාසය නොකල විරූද කියලත් මම දැනගත්තා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පින්වත් මහණෙනි, යම්තාක් කල් මා හට මෙසේ පරිවර්ත අටකින් යුතු - ඔතන කාරණා අටක් තියෙනවා, ඉස්සෙල්ලාම දේවතා ආලෝකය, රූප හඳුනාගැනීම, කතාබස් කිරීම, දේව නිකාය දැනගැනීම, ඊළඟට ඒ දිව්‍යලෝකෙ ඉපදෙන කර්මය දැනගැනීම, සැපදුක් විඳින කර්ම දැනගැනීම, ආයුෂ දැනගැනීම, ඒ දෙවියොත් එක්ක කලින් හිටියද කියලා දැන ගැනීම. කාරණා අටක් තියෙනවා. ඒ කාරණා අටකින් යුතු අධිදේව ඥාණ දර්ශනය පිරිසිදුව නොහැදුනේ වේද, ඒ කියන්නෙ ඒක සම්පූර්ණයෙන් පිරිසිදු ඥාණය ඇතිවුනේ නැද්ද ඒ තාක් කල් පින්වත් මහණෙනි, මම දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ සම්මා සම්බුද්ධයි කියලා ප්‍රතිඥා දුන් නෑ කියනවා. එතකොට බලන්න බුදුරජාණන් වහන්සේගේ ඥාණය. බුදුවෙලා කරන්න දෙයක් තියාගත්තෙ නෑ. නිකෙලෙස් වෙනකොටම සියල්ල පරිපූර්ණයි. යම් ආකාරයකින් මේ තුන් ලෝක ධාතුවේම, දස දහසක් සක්වල දෙවිවරුන්, තුන් ලෝකයේම දස දහසක් සක්වල, සක්වල දෙවිවරුන්ගේ රූප, ඒ දෙවිවරුත් එක්ක කතා බහ, ඒ දෙවිවරුත් එක්ක, ඒ දෙවිවරු කරපු කර්ම, ඒ දෙවිවරුන්ගේ සැප දුක් විඳීම, ඒ දෙවිවරුන්ගේ ආයුෂ, නිකාය, ඊළඟට ඒ දෙවිවරුත් එක්ක කලින් තමන් හිටපු ජීවිත, ඔය ටික සර්ව සම්පූර්ණ ආකාරයකින් කාරණා අටකින්ම යම්තාක් කලක මා හට පරිවර්ත අටකින් යුතු

අධිදේව ඥාණ දර්ශනය පිරිසිදුව වැටහුනේ වේද එකල්හි මම පින්වත් මහණෙනි, දෙවියන් සහිත වූ මරුන් සහිත වූ බමුණන් සහිත වූ ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත වූ, බ්‍රහ්මයන් සහිත වූ මේ ලෝකයේ සම්මා සම්බුද්ධයි කියලා මං ප්‍රතිඥා දුන්නෙ ඊටපස්සෙ කිව්වා. පුදුම සහගතයි. මා හට මේ ඥාණ දර්ශනය උපන්නේ ඒ ඥාණ දර්ශනය ඇතිවුනාට පස්සේ මාගේ සිත අකෝප්‍යි වුනා, සිත අචංචල වුනා. විමුක්තියේම පිහිටියා. නොවෙනස් වන ස්වභාවයට පත්වුනා. ඒ භාග්‍යවතුන් වහන්සේටම ඥාණ දර්ශනය ඇතිවුනා. මේ තමයි අන්තිම උපත. අයමන්ති මා ජාති නත්ති ජාති පුනබ්බවො, ආයෙ පුනර්භවයක් නෑ කියනවා. එතකොට මේ බලන්න බුදුරජාණන් වහන්සේගේ අධිදේව ඥාණ දර්ශනය ඔය. එතකොට දෙවිවරුන්ගේ සකල ස්වභා උන්වහන්සේට අවබෝධ වෙලා තියෙනවා. ඒ වගේම බුදුරජාණන් වහන්සේට සියලූම ප්‍රේතයන්ගේ ප්‍රේත ජීවිත, යක්ෂයන්ගේ යක්ෂ ජීවිත, මනුස්සයන්ගේ මනුස්ස ජීවිත ඒවා හටගත්ත හැටි, කලින් ජීවිත, ඊළඟට යන ජීවිත ඒ ඔක්කෝම බුදුරජාණන් වහන්සේට පෙනෙනවා. ඒක භාග්‍යවතුන් වහන්සේගේ ඥාණ දර්ශනයක්. එතකොට හිතන්න පින්වතුනි බුදු කෙනෙක් දෙවියෙක් එක්ක කතා කලත්, මිනිස්සු එක්ක කතා කලත්, කා එක්ක කතා කලත් බුදුරජාණන් වහන්සේගේ තියෙන ඒ සම්බුද්ධ ඥාණය ඉදිරියේ ඒ කිසිම දෙයක් වැහෙන් නෑ, මේ ඔක්කෝම එකතු වුනාට පස්සෙ වැහෙන් නෑ. අනාවරණ ඥාණය. එතකොට මේකෙ පින්වතුනි බලන්න මේ ඥාණයත් එක්කම පෙර ජීවිත දැකීමේ ඥාණය එකතු වෙලා, ඥාණ දර්ශනය හැදුනෙ. දිව්‍යසෝත දෙවියෝත් එක්ක කතා කරන, දුර තියෙන ඒවා ඇහෙන දිබ්බසෝත ඥාණය. දිබ්බචක්ඛු ඥාණය. චුතූපපාත ඥාණය. ඊළඟට සබ්බත්ථ ගාමිනී පටිපදා ඥාණය. අර ඕනම උපතකට යන වැඩපිළිවෙල දකින ඥාණයක් තිබ්බේ දසබල තථාගත බල වල. ඒ ඥාණ ඔක්කෝම එකතු වුන තැන අධිදේව ඥාණ දර්ශනය. දෙවිවරුන්ගේ සියලූ ස්වභා, කාරණා අටකින්, ඒ දෙවිවරුන්ගේ ආලෝකය, රූපය, කතාබහ, ඊළඟට ඉපදෙන්න කරපු කර්ම, විඳින සැපදුක්, ආපු නිකාය, ඒ සැපදුක් විඳින කර්ම, ඊළඟට ඒ දෙවිවරුන්ගේ ආයුෂ, ඒ දෙවිවරුත් එක්ක සසරේ හිටියද නැද්ද කියන එක දකිනවා. දැන් අපි ගත්තොත් සහම්පති මහා බ්‍රහ්මයා කාශ්‍යප බුද්ධ ශාසනයේ සහක කියන භික්ෂුව. ඒ කාලේ මහාබෝධිසත්ත්වයෝ ජෝතිපාල කියන භික්ෂූන් වහන්සේ නමක්. එතකොට කලින් මුණගැහිලා තියෙනවාද ඒ ඔක්කොම ජේනවා, දන්නවා. ඝටීකාර බ්‍රහ්මරාජයා භාග්‍යවතුන් වහන්සේට වඳින්න එනකොට කලින් කාශ්‍යප බුද්ධ ශාසනයේ ජෝතිපාල මානවකයා සමඟ හිතවත් වෙලා

හිටපු ඝටීකාර කුඹල්කරුවා. ඉතින් භාග්‍යවතුන් වහන්සේ දුටු ගමන් දන්නවා. ඒ භාග්‍යවතුන් වහන්සේගේ අධිදේවතා ඥාණ දර්ශනය. බක බ්‍රහ්මයා බ්‍රහ්ම ලෝකෙනෙ. කොහෙන්ද ආවෙ කියලා දන්නවා. බක බ්‍රහ්මයාට කිව්වානෙ, බ්‍රහ්මය කලින් ඔබ මාගේ ගුරුවරයා වෙලා හිටියා කියනවා සංසාරේ. කලින් ඒ බක බ්‍රහ්මයා ගුරුවරයා, මහාබෝධිසත්ත්වයෝ ශිෂ්‍යයා. ඉතින් ඒ තාපසයින් වහන්සේ හරී ආදරෙයි ශිෂ්‍යයාට. පුදුම ආදරෙයි ශිෂ්‍යයාට. ගොඩාක් හිත බැඳිලා. ආදරෙයි. ඊටපස්සෙ ඔහොම ඉද්දින් ඒ ශිෂ්‍යයා, තාපසයින් වහන්සේට හදිසියේ රජතුමාට අනුශාසනා කරන්න ලුණුඇඹුල් හොයාගෙන එන්න සිද්ධ වුනා, ශිෂ්‍ය නම වනයේ නැවතුනා, ශ්‍රාවකයා. මේ ගෝලයා. ඊටපස්සෙ අර තාපසයින් වහන්සේ ඇවිල්ලා නගරයට ඇවිල්ලා මිනිස්සු අතර ගැවසෙනකොට නිතර නිතර මතක් වුනා තමන්ගේ ශිෂ්‍යයා. ලෙඩ වුනා. ඒ ලෙඩ වෙලා කණ් වලින් සැරව ගලනවා. ගොඩාක් අසාධ්‍ය වුනා. කිසිම බෙහෙතකින් සුවයක් නෑ, ඊටපස්සෙ එහෙම ඉන්නකොට තමයි නුවණැති කෙනෙකුට හිතුනෙ, මට මතක හැටියට මේ කියන්නෙ මොකාක්හරි හේතුවක් තියෙනවා මොහුගේ හිත වෙන තැනක, සෙනෙහස තියෙන කෙනෙක් ඉන්නවා. ඒ නැතිවීමේ දුකෙන් මේක හටගෙන තියෙන්නෙ, කියලා ආපහු හිටපු තැනට යවන්න ඕන කියලා. ඊටපස්සෙ  උස්සගෙන අර තාපසයින් වහන්සේ උස්සාගෙන මහාවනයට ගියා හොඳටම අසාධ්‍යයි. දුවගෙන ශිෂ්‍ය නම ඇතින් දකිනකොටම අනේ මගේ ශිෂ්‍ය නම කියලා ආදරෙන් වැළඳගත්තා. ඊටපස්සෙ උපස්ථාන කරලා දවසෙන් දෙකෙන් රෝගය සුව වුනා. බක බ්‍රහ්මයාට භාග්‍යවතුන් වහන්සේ වදාළා අතීතයේ මාව නොදැක ඉන්න බැරිවනේ හිටියේ කිව්වා. දැන් මේ කලින් ලැබිච්ච ඒ පුණ්‍ය සෘද්ධි වලින් පින්කම් වලින් ලැබිච්ච ආනුභාවයෙන් මේ බ්‍රහ්ම ලෝකෙ මත්වෙලා ඉන්න එපා කිව්වා. මේවා අනිත්‍යයි කිව්වා. සංකතයි කිව්වා, පටිච්ච සමුප්පන්නයි කිව්වා. ඔබ තව ආයුෂ මෙච්චර ගාණකින් චුත වෙනවා අහවල් නිකායේ උපදිනවා. මේවා ස්ථිරයි කියලා හිතන්න එපා කියලා සංවේගයට පත්කරලයි භාග්‍යවතුන් වහන්සේ වැඩියෙ. භාග්‍යවතුන් වහන්සේගේ ජීවිතේ තියෙන පුදුම දෙයක් තමයි සංසාරේ කවුරුහරි බුදුරජාණන් වහන්සේට මුණගැහිලා තියෙනවා නම් අනිවාර්යයෙන් එයාට නම් පිහිටක් ලැබෙනවාමයි. පිහිටක් ලැබෙනවාමයි. ඒකයි පින්වතුනි සබ්බිරේව සමාරේථ සබ්බිකුබ්බේථ සන්ථවං සතං සද්ධම්ම මඤ්ඤාය සෙය්‍යා හෝති නපාපියෝ, ඒ සත්පුරුෂයෝ සමඟමයි ඉන්න ඕන. සත්පුරුෂයෝමයි ඇසුරු කරන්න ඕන. සත්පුරුෂයන් සමඟමයි යාළුවෙන්න ඕන. සත්පුරුෂයෝ ඇසුරු කරන කෙනාට පිරිහීමක්

වෙන් නෑ. කවදාහරි පිහිටක් තියෙනවා. සත්පුරුෂයොත් එක්ක ඉන්න. ඔබත් සත්පුරුෂයෝ ඇසුරු කරන්න. ඉතින් ඒ නිසා පින්වතුනි මේ බලන්න මේ අපි ඉගෙන ගත්තේ බුදුරජාණන් වහන්සේගේ අධිදේව ඥාණ දර්ශනය. ඊළඟට පින්වතුනි අපේ භාග්‍යවතුන් වහන්සේ සමාධියෙන් ඔය ඔක්කෝම ටික භාග්‍යවතුන් වහන්සේ සම්මා සම්බුදු බවට පත්වෙනකොට ගයාවේ වජිරාසන ජයසිරිමහා බෝ සෙවණේ උපදවාගත්තු ඥාණ. මේවා අහන්න හරි ලැබෙන එක ගැන සතුටු වෙන්න පින්වතුනි. තව තියෙනවා සමාධියෙන් දියුණු කරන එක්තරා සමාධියේ ස්වභාවයක්. ඒකට කියනවා අභිබායතන. මේ අභිබායතන අටක් තියෙනවා. මේ අභිබායතන අටත් සර්ව සම්පූර්ණයෙන් යම් වැඩුවා ද, ඒ සර්ව සම්පූර්ණ වීමත් එක්කම සම්මා සම්බුද්ධත්වය සාක්ෂාත් වුනේ. සම්මා සම්බුද්ධත්වය කියන්නෙ සුලු එකක් නෙවේ පින්වත්නි. ඉතින් ඊටපස්සෙ තමයි භාග්‍යවතුන් වහන්සේ අභිබායතන වඩන හැටි ශ්‍රාවකයන්ට කියලා දෙන්නෙ. මොනවද ඒ අභිබායතන කියන්නෙ. ඔන්න සමාධියෙන්, සමාධියෙන් වාසය කරනවා. වාසය කරනකොට මේක හොඳට අහගෙන ඉන්න ඒ අට. ආධ්‍යාත්මයේ රූප සංඥා ඇත්තේ නොයෙක් බාහිර ස්වල්ප වූ වර්ණවත් දුර්වර්ණ රූප දකිනවා. ඒවා මැඩගෙන දනිමි දකිමි යන සංඥාව ඇත්තේ වේ. මේ පළමු අභිබුආයතනයයි. සමස්ථයක් වශයෙන් අභිබායතන කියන්නෙ අභිබු. දැන් සමාධියෙන් තුළ බාහිර රූප ඒවා දැනගෙන දන්නවා දකිනවා කියන එකත් එක්ක රූප මඩිනවා සමාධියෙන්. ඊළඟට තියෙනවා ආධ්‍යාත්මයෙන් රූප සංඥා ඇත්තේ කෙනෙක් බාහිර අප්‍රමාණ වූ වර්ණවත් දුර්වර්ණ වූ රූප දකිනවා. ඒවා මැඩගෙන දකිමි දනිමි යන සංඥාවෙන් වාසය කරනවා. ඒක දෙවෙනි අභිබායතනය. ඊටපස්සේ ආධ්‍යාත්මයේ අරූප සංඥා ඇත්තේ කෙනෙක් බාහිර ස්වල්ප වූ වර්ණවත් දුර්වර්ණ රූප දකී. ඒවා මැඩගෙන දනිමියි දකිමියි යන සංඥාව ඇත්තේ වේ. මේක අභිබායතනයක්. මේක තමයි තුන්වෙනි අභිබායතනය. ඒ කියන්නේ ඒ බාහිර දේවල් මැඩ පවත්වගන්නවා. ආධ්‍යාත්මයේ සමාධිය රැක ගන්නවා. ඊටපස්සෙ තියෙනවා හතරවෙනි අභිබායතනය. ආධ්‍යාත්මයේ අරූප සංඥා ඇත්තේ කෙනෙක් බාහිර අප්‍රමාණ වූ ඉස්සෙල්ලා තිබ්බෙ ස්වල්ප වූ, දැන් අප්‍රමාණ වූ වර්ණවත් දුර්වරණ රූප දකී. ඒවා මැඩගෙන දනිමි දකිමි යන සංඥාව ඇත්තේ වේ. මේ සිව්වෙනි අභිබුආයතනයයි. ඊළඟට පස්වෙනි එක ආධ්‍යාත්මයේ අරූප සංඥා ඇත්තේ කෙනෙක් බාහිර නිල් වූ නිල් පැහැති නීල නිදර්ශන ඇති, නිල් ආලෝක ඇති, රූප දකී. ඒවා මැඩගෙන දනිමි දකිමි යන සංඥාව ඇත්තේ වේ. මේ පස්වෙනි

අභිබුආයතනයයි. ඊළඟට හයවෙනි එක, ආධ්‍යාත්මයේ අරූප සංඥා ඇත්තේ කෙනෙක් බාහිර කහ වූ කහ පැහැති කහ නිදර්ශන ඇති කහ ආලෝක ඇති රූප දකී. ඒවා මැඩගෙන දනිමි දකිමි යන සංඥාව ඇත්තේ වේ. මේ හයවෙනි අභිබුආයතනයයි. හත, ආධ්‍යාත්මයේ අරූප සංඥා ඇත්තේ කෙනෙක් බාහිර රතු වූ, රතු පැහැ ඇති, රතු නිදර්ශන ඇති, රතු ආලෝක ඇති රූප දකී. ඒවා මැඩටගන දනිමි දකිමි යන සංඥාව ඇත්තේ වේ. මෙය සත්වෙනි අභිබුආයතනයයි. අටවෙනි එක, ආධ්‍යාත්මයේ අරූප සංඥා ඇත්තේ කෙනෙක් බාහිර සුදු වූ සුදු පැහැති සුදු නිදර්ශන ඇති සුදු ආලෝක ඇති රූප දකී. ඒවා මැඩගෙන දනිමි දකිමි යන සංඥාව ඇත්තේ වේ. මේ අටවෙනි අභිබුආයතනයයි. පින්වතුනි අවස්ථා අටක තමාගේ හිත සමාධිය වඩන ගමන් අවස්ථා අටක බාහිරව පේන දේ මැඩ මැඩ වාසය කරනවා. එතකොට ඒක කරන එක අභිබායතන කියලා එක්තරා ස්වභාවයක්. සමාධියේ එක්තරා තත්ත්වයක්. භාවනාවේ එක්තරා පුහුණුවක් මේක. මේ සියලු පුහුණුව සර්ව සම්පූර්ණයෙන්ම භාග්‍යවතුන් වහන්සේ ප්‍රගුණ කලා. අවබෝධ කලා. සාක්ෂාත් කලා. බුදුරජාණන් වහන්සේ එතකොට සමාධියට කොච්චර දේවල් තියෙනවාද. ඇත්තටම මේ ලෝකේ තියෙන සමාධි විෂය පිළිබඳව බුදුරජාණන් වහන්සේ තරම් නම් සිතාගත නොහැකියි, මේවා විග්‍රහ කරන්න. මොකද බුදුරජාණන් වහන්සේ දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ සියලු දෙනා දන්නා දකිනා සියල්ල අවබෝධ කලානෙ. එතකොට දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකෙ සියලු දෙනා වඩන බ්‍රහ්මයෝ වඩන භාවනා සමාධි, දෙවියෝ වඩන භාවනා සමාධි, ඍෂිවරු, තාපසවරු, සියලුදෙනාගේම සමාධි භාග්‍යවතුන් වහන්සේ හිතින් දැක්කානෙ. දැන් සාමාන්‍යයෙන් අද කාලෙ කෙනෙක් ධර්මයට අනුකූල නැතිව තමන් තනියෙන් භාවනා කරලා භාවනාවක් විස්තර කලොත් එහෙම එයාගේ දැනුමට අනුවනේ භාවනාව විස්තර කරන්නෙ. එයාගෙ දැනුමට අනුව. දැන් තමන්ගෙ දැනුමට අනුව භාවනාව විස්තර කරලා අමාරුවෙ වැටෙන එකක් නේද, මහා කම්ම විභංග සූත්‍රයේ අපි ඉගෙන ගත්තෙ. එයාට භාවනාවටම පේනවානෙ දුෂ්චරිතය කරපු කෙනා දිව්‍යලෝකෙ ගිහිල්ලා. සුචරිතය කරපු කෙනා අපායේ ගිහිල්ලා පෙනුනානෙ. නමුත් ඒ දකින ස්වභාවය ඉක්මවා ගිය ඥාණ දර්ශනය තථාගතයන් වහන්සේනෙ පෙන්නුවෙ ඒක කොහොමද වුනේ කියලා. ඒ වගේ භාවනා ඔය. අපි දැන් ගත්තොත් එහෙම අද කාලෙත් ඔය තැන් තැන් වල -දැන්නම් ටික ටික මුලුගැන්විලා - පොඩි පොඩි භාවනා ක්‍රම තියෙනවා මේක හරි, මේක හරි කියලා. ඉස්සර තිබ්බා ඔය පිම්බීම හැකිලීම, ඊළඟට පාදය

එසවීම තැබීම, රූපයක් දකිනකොට දැක්කා දැක්කා, අහනකොට ඇහුනා, ඇහුනා. මොකක්හරි දැනෙනකොට විඳුනා විඳුනා කියලා. රාගයක් එනකොට රාගයක් ආවා ආවා කියලා එක එක භාවනා ක්‍රම. ඉතින් එක එක්කෙනාට හිත භාවනාවට, හිතේ යම් සමාධියක් ඇතිවෙච්ච සිස්ටම් තමයි එයාලා කියාගෙන යන්නෙ. නමුත් ඒ තමන්ගෙ එකක් ඒක. බුදුරජාණන් වහන්සේ මේ ධර්මය දේශනා කරන්නෙ සකලලෝක ධාතුවම අවබෝධ කරලා, අවබෝධයක් කරා යෑම පිණිස පමණක් හේතුවන භාවනා ක්‍රම. නැත්නම් භාවනා ක්‍රම ඕනතරම් තියෙනවා. මම ස්කෝලෙ යන කාලෙ එක ගුරුවරයෙක් හිටියා භාවනාව පැත්ත කරපු. ඒ ගුරුවරයා භාවනාවෙන් ආකාසෙ ඉන්නවා, ඍද්ධියක් උපද්දලා. එයා කරන භාවනාව තමයි මම, මම, මම කියලා භාවනා කරනවා. ඒ භාවනා අරමුණ මම. ඒ භාවනා කරන කාලෙ මාව වෙනම ගෙන්නගෙනත් ගියා ඒ භාවනා ක්‍රමය කියලා දෙන්න, මං ස්කෝලෙ යන කාලෙ, මං ළමයා කාලෙ. මෙන්න මෙහෙම ක්‍රමයක් තියෙනවා මෙහෙමයි කියලා මට ගොඩාක් විස්තර කියලා දුන්නා. එතකොට ඒ වුනාට, ඒක එයාගෙ මොකක්හරි එකක්. ඒකනෙ ඔය බාහිර රටවල, දැන් සුද්දන්ට, සුද්දො ඉතින් ධර්මයක් ශ්‍රද්ධාවක් මොකක්වත් එකක් නෑනෙ. ශාස්තෘන් වහන්සේ ගැන ධර්මෙ ගැන ඉගෙනගෙන නෑනෙ. ඒ නිසා මොකක්හරි මෙඩිටේෂන් කියලා මොකක්හරි භාවනා ක්‍රමයක් මොකක්හරි හොයාගන්නවා. එතකොට එයාලට ඕන බණක් අහන්න නෙවෙයි. ඉඳගත්තා, ඇස් දෙක පියාගත්තා. මොකක්හරි එකක්. පින්වතුනි, භාවනා සමාධිය කියන එක ඇතිවෙනවා කාමය තුළත්. ඒකනේ ටීවී දිහා බලාගෙන, මැච් එක දිහා බලාගෙන කට ඇරගෙන බලාගෙන ඉන්නවා, කණකර ටික ගෙනියනවානෙ මිනිස්සු හොරෙන්. එයාගේ හිත මැච් එක එකඟ වෙලා. මැච් ඒකේ සමාධිය. කාමය තුළ එකඟයි. දැන් ළමයි එළිවෙනකල් ෆෝන් එක එළිවෙනකල්, රෑ දහයට පටන් ගත්තු ගමන් පාන්දර හතර පහ වෙනකල් ෆෝන් එකේම ඉන්නවා, වෙලාව යනවා දැනෙන් නෑනෙ. ඇයි ඒ, කාමය තුළ හිත එකඟ වෙලා. කාමය ධ්‍යානය කරනවා. ඒක බුද්ධ වචනයේ තියෙන එකක්. ඊළඟට තරහෙන් වෛරයෙන් ඉන්නවා රෑ එළි වෙනකල් නිදිමරාගෙන. ඒකම හිත හිතා ඉන්නවානෙ. ව්‍යාපාදය ධ්‍යාන කරනවා. නිදි කිර කිරා ඉන්නවානෙ ඕන තරම්. නින්ද ධ්‍යාන කරනවා. පසුතැවිල්ල ධ්‍යාන කරනවා. විචිකිච්ඡාව ධ්‍යාන කරනවා. නීවරණත් ධ්‍යාන කර කර ඉන්නවා. ඉතින් ඒ නිසා සිත එකඟවීමවත්, එක අරමුණක ඉන්න එකවත් නෙවෙයි මෙතන හපන්කම. ශාස්තෘන් වහන්සේ වදාළ වැඩපිළිවෙල පුරුදු කිරීම. හිත එකඟ වුනා හෝ

නැතා හෝ බුදුරජාණන් වහන්සේ වදාළ දේ පුරුදු කරනවානම්. ඒකයි මෙතන තියෙන්නෙ. මේ තමයි ඒ සමාධිය තුළ හිත එකඟ කරන විට රූප නිදර්ශන එද්දි ඒවා මැඩ පවත්වා පවත්වා හිත ඉහළට ගැනීමේ යම් ක්‍රමයක් තමයි මේ අභිබූආයතන කියන්නෙ. යම්කිසි එක්තරා භාවනාමය ස්වභාවයක් කියලා දැනට ඔබ තේරුම් ගත්තාම ප්‍රමාණවත්. මේ සියල්ල බුදුරජාණන් වහන්සේ වැඩුවානෙ මේ ලෝකෙ ගුරු උපදේශ රහිතවම වැඩුවානේ කියලා ශාස්තෘන් වහන්සේ ගැන ශ්‍රද්ධාවට පත්වෙන්න, සම්මා සම්බුද්ධයි කියලා. ඊටපස්සෙ තියෙනවා පින්වතුනි, විමෝක්ෂ. අෂ්ට විමෝක්ෂ කියන්නෙ. එතකොට ඒකෙ තියෙනවා, රූප ධ්‍යානයෙන් යුක්ත වූයේ බාහිර රූපයන් දකියි. මෙය පළවෙනි විමෝක්ෂයයි. රූප ධ්‍යානයෙන් යුක්ත වෙලා බාහිර රූප දකිනවා. මෙන්න මේක එතකොට මෙයා ඒකෙන් මිදිලා. එතකොට ඒක විමෝක්ෂයක්. ආධ්‍යාත්මයේ අරූප සංඥා ඇත්තේ කෙනෙක් බාහිර රූප දකී. අධ්‍යාත්මයේ අරූප සංඥාව තියලා බාහිර රූප දකිනවා. මේක දෙවෙනි විමෝක්ෂයයි. සුබ දෙයක්ම යයි සලකා ධ්‍යානයට ඇලුනේ වෙයි, මේ තුන්වෙනි විමෝක්ෂයයි. සියලු ආකාරයෙන්ම රූප සංඥාවන් ඉක්මවීමෙන් ගොරෝසු සංඥාවන් ඇතිවීමෙන්, නානා සංඥා මෙනෙහි නොකිරීමෙන්, අනන්ත වූ ආකාසය යයි ආකාසානඤ්චායතනයට පැමිණ වාසය කරයි. මෙය සිව්වන විමෝක්ෂයයි. රූපයෙන් නිදහස් වෙලා ආකාසය අනන්තයි කියන සංඥාවෙ හිත තියෙනවා. ඒ ඊළඟ විමෝක්ෂය. පස්වෙනි විමෝක්ෂය, සියලු ආකාරයෙන්ම ආකාසානඤ්චායතනය ඉක්මවීමෙන් අනන්ත වූ විඤ්ඤාණය යැයි විඤ්ඤාණඤ්චායතනයට පැමිණ වාසය කරයි. මෙය පස්වෙනි විමෝක්ෂයයි. ඊළඟට හයවෙනි, සියලු ආකාරයෙන්ම විඤ්ඤාණඤ්චායතනය ඉක්මවීමෙන් කිසිවක් නැතැයි ආකිඤ්චඤ්යාතනයට පැමිණ වාසය කරයි. මේ සයවෙනි විමෝක්ෂයයි. සියලු ආකාරයෙන්ම ආකිඤ්චඤ්යාතනය ඉක්මවීමෙන් නෙවසඤ්ඤානාසඤ්ඤායතනයට පැමිණ වාසය කරයි. මේ සත්වෙනි විමෝක්ෂයයි. සියලු ආකාරයෙන්ම නෙවසඤ්ඤානාසඤ්ඤායතනය ඉක්මවීමෙන් සංඥාවේදිත නිරෝධයට පැමිණ වාසය කරයි. මේ අටවෙනි විමෝක්ෂයයි. ඔය විමෝක්ෂ අට. භාග්‍යවතුන් වහන්සේ ගුරු උපදේශ රහිතවම මේ සියලු විමෝක්ෂ පරතෙරටම වැඩුවා. ලෝකෙ යම්තාක් විමෝක්ෂ වඩන අය ඇත්ද ඒ සියලු දෙනාම බුදුරජාණන් වහන්සේ නුවණින් දුටුවා. ඊටපස්සෙ තමා මේවා වඩන්නේ මෙහෙමයි කියලා භාග්‍යවතුන් වහන්සේ දේශනා කරන්නෙ. දැන් නිරෝධ සමාපත්තිය තමයි අටවෙනි විමෝක්ෂය.

නිරෝධ සමාපත්තිය පින්වතුනි, ඒ නිරෝධයට සමවැදුනාට පස්සෙ ආශ්වාස ප්‍රශ්වාසය හතරවෙනි ධ්‍යානයෙන්ම නැතිවෙනවා. හුස්ම ගන්නඑක, හෙලනඑක. ඊළඟට විතක්ක විචාර සංසිඳෙනවා. ඊටපස්සෙ සංඥාවේ, විතක්ක විචාර දෙවෙනි ධ්‍යානයෙන්ම සංසිඳෙනවා. ආශ්වාස ප්‍රශ්වාස හතරවෙනි ධ්‍යානයෙන් සංසිඳෙනවා. නෙවසඤ්ඤානාසඤ්ඤායතනයට එනකොට සංඥාව, සම්පූර්ණයෙන් සංඥාව සංසිඳිලා ඒ විතක්ක විචාර නැති, ඊළඟට ආශ්වාස ප්‍රශ්වාස නැති සංඥා වේදනා නැති සමාධියට සමවදිනවා නිරෝධයෙන්. ඒ නිරෝධයට මම දැන් සමවදිනවා කියලා එහෙම හිතිල්ලක් නෑ, ඒක පින්වතුනි ඒක අද්භූත සමාපත්තියක්. එතකොට ඒ කෙනා නිරෝධයට සමවැදුනාට පස්සෙ ඒ කෙනාගෙයි මලකුණෙයි වෙනස තමයි මලකුණේ ඉන්ද්‍රියන් මැරිලා ගිහිල්ලා. නිරෝධ සමාපත්තියට සමවැදුනු කෙනාගේ ඒ ඉඳුරන් ප්‍රසන්නයි. අනිත් එක තමයි නිරෝධ සමාපත්තියට සමවැදුනු කෙනාගේ රෝම කූපයකටවත් හානි වෙන්නෑ. දැන් ඉස්සර සංජීව කියන, කලින් බුද්ධ ශාසනයේ සංජීව කියන අග්‍රශ්‍රාවකයන් වහන්සේ වනයට වැඩියා. උන්වහන්සේ වනයේ ගහක් මුල නිරෝධයට සමවැදුනා. නිරෝධයට සමවැදුනට පස්සේ ඒ කැලේ ගිය පිරිසක්, ගහක් මුල ස්වාමීන් වහන්සේ නමක් ඉන්නවා, හුස්ම වැටෙන්නෙත් නෑ, හැඟීම් දැනීම් නෑ, හිතුවා අනේ බලන්න මේ සුන්දර ශ්‍රමණයන් වහන්සේ ගහක් මුල හිඳගෙනම අපවත් වෙලා කියලා මිනිස්සු දර ගෙනල්ලා ගිනිතිබ්බා. නිරෝධයට සමවැදුනට පස්සේ පින්වතුනි රෝම කූපයක්වත් පිච්චෙන් නෑ. ඉතින් දර ඔක්කෝම ගිනි ගත්තා මහා ගිනි ජාලයක්. උන්වහන්සේ දවස් හතකට පස්සෙ සමාධියෙන් නැගිටලා අළු ගහලා ඉවරවෙලා ආයෙ පාත්තරය අරන් පිණ්ඩපාතෙ ගියා. එතකොට අර ගමේ මිනිස්සු කිව්වා, ආං අර අපවත් වුනු ශ්‍රමණයන් වහන්සේ ආයෙ ඉපදිලා, නැවත ඉපදිලා කියන සංඥාවෙන් සංජීව කියලා ඒ රහතන් වහන්සේට කියනවා. නිරෝධ සමාපත්තිය ගැන ඔය කිව්වෙ. එතකොට ඊළඟට තව ලංකාවේ සිදුවෙලා තියෙනවා, ලංකාවේ රහතන් වහන්සේ නමක් නිරෝධ සමාපත්තියට සමවැදිලා මහවනයේ, හොරු ටිකක් ඇවිල්ලා රෑ හොරු පන්සීයක් ඇවිල්ලා දන්නෙ නැතිව ගලක් කියලා හිතලා ඒ හරියෙ බඩු ටික තියලා, හොරු පන්සීයම ගෙනාපු බඩු ඒ උඩ ගොඩ ගහලා හොරු ඒ උඩ නැගලා දැන් මේ ඇතුලෙ තෙරුන් වහන්සේ, මේ රෑ එළිවෙනකල් හිටියා. ඊටපස්සෙ උදේ අර උර පන්සීයම අයින් කරලා යන්න හදනකොට ස්වාමීන් වහන්සේ සමාපත්තියෙන් නැගී හිටියා. රෝම කූපයකටවත් තැලීමක් නෑ. ඒ සමාපත්තියට සමවැදුනාට

පස්සේ පොරවගෙන ඉන්න සිවුරෙ නූලක්වත් පිච්චෙන් නෑ. ඒක තමයි නිරෝධ සමාපත්තිය. ඒක අෂ්ට විමෝක්ෂ වල අවසාන විමෝක්ෂය. ඊළඟට පින්වතුනි, තව කාරණාවක්, දැන් බුදුරජාණන් වහන්සේට මේ සියල්ල අවබෝධ කලානෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ ගැන පහදින්න තව කාරණාවක් කියන්නම්. ඒ තමයි බුදුරජාණන් වහන්සේ ඇසුරු කරනවා පිරිස් අටක්. ඒකට කියනවා බුදුරජාණන් වහන්සේ ඇසුරු කරන පිරිස් අට කියලා. අපි ඒ ගැන තියෙන විස්තරය බලමු, පරිස සූත්‍රයේ. ඒ පිරිස් අට තමයි ක්ෂත්‍රිය පිරිස - ඒ කියන්නෙ රජ පිරිස, බ්‍රාහ්මණ පිරිස, ගෘහපති පිරිස, ශ්‍රමණ පිරිස, චාතුම්මහාරාජික පිරිස, තව්තිසා පිරිස, මාර පිරිස, බ්‍රහ්ම පිරිස. පිරිස කියන්නෙ විශාල සමූහයක්. සුලු සුලුවෙන් නෙවෙයි, දහස් ගණන්. දහස් ගණන් සෙනඟ පිරිච්ච පිරිස් අට මේ. ඉතින් මහණෙනි මම නොයෙක් සිය ගණන් ක්ෂත්‍රිය පිරිස් වෙත එළඹුණු බව දනිමි. එහිදී මා විසින් ඔවුන් හා වාඩිවී සිටිවිරූය. කතාබස් කලවිරූය. සාකච්ඡාවන්ට පැමිණි විරූය. එහිදී ඔවුන්ගේ යම්බදු වරණයක් වී නම්, මාගේ එබදු වරණයක් වෙයි. ඔවුන්ගේ යම්බදු ස්වරයක් වේද, මාගේ එබදු ස්වරයක් වෙයි. දැහැමි කතාවෙන් ඔවුන්ට කරුණු දක්වමි. සමාදම් කරවමි. උත්සාහවත් කරවමි. සතුටු කරවමි. ඔවුන් සමඟ කතා කරන මාව මේ කතා කරන්නේ කවර වූ දෙවියෙක්ද, කවර වූ මිනිසෙක්දැයි නොදනිති. දැහැමි කතාවෙන් කරුණු දක්වා සමාදන් කරවා උත්සාහවත් කරවා සතුටු කරවා නොපෙනී යමි. නොපෙනී ගිය කල්හි ඒ නොපෙනී ගියහු කවර වූ දෙවියෙක්ද, කවර වූ මිනිසෙක්දැයි මාව නොදනිති. ගොඩාක් රජපිරිස ඉන්නවා. ඒ රජ පිරිස අතර භාග්‍යවතුන් වහන්සේ කතා කරනවා. එතකොට එයාලගේ ඒ රජවරුන්ගේ ස්වභාවයක් වගේ පේන්නෙ. එතකොට අපේ රජතුමා කතා කරනවා කියලා අහගෙන ඉන්නවා. අද නම් අපේ රජතුමා ප්‍රණීත විදියට, සොඳුරු විදියට දහම් කතාවෙන් අපිව තෙද ගන්වනවා කියලා හිතනවා. ඊටපස්සෙ දහම් කතාව කරලා අතුරුදහන් වෙලා යනවා. අතුරුදහන් වෙලා ගියාට පස්සේ එයාලගේ රජ්ජුරුවෝ එනවා. ආවට පස්සෙ එයාලට හිතාගන්න බෑ දැන් කවුද හිටියේ කියලා. ඒක පුදුම සහගත දෙයක්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඔය විදියට බ්‍රාහ්මණ පිරිස අතරට යනවා, ගෘහපති පිරිස අතරට, ශ්‍රමණ පිරිස අතරට, චාතුම්මහාරාජික පිරිස, තව්තිසා පිරිස, මාර පිරිස, බ්‍රහ්ම පිරිස අතරට එළඹුණා. එතකොට දැන් මාර පිරිස, දසබිම්බරක් මාර සේනාව ඉන්නවානෙ. ඒ සෙනඟ අතරටත් යනවා. එතකොට මාරයන්ගේ ශරීරයේ පැහැය, මාරයන්ගේ භාෂාව, ඒ භාෂාවෙන් තමයි කතා කරන්නෙ. ඒ විදියට

තමයි ඉන්නෙ. එතකොට ඒ අයටත් කරුණු කියනවා. එතකොට ඒ අය දන්නෙත් නෑ මේ කව්ද කියලා. අතුරුදහන් වෙලා යනවා. බ්‍රහ්මයො අතරට යනවා. එතකොට බ්‍රහ්මයන්ගේ ස්වරූප, පාට, ඒවා කොයි වගේද, භාග්‍යවතුන් වහන්සේත් ඒ වගේ වෙනවා. ඒ බ්‍රහ්මයන්ගේ භාෂාවෙන්ම කතා කරනවා, කරුණු දක්වනවා, තෙද ගන්වනවා, අතුරුදහන් වෙලා යනවා. එතකොට ඒ බ්‍රහ්මයෝ දන්නෙත් නෑ කවුද මේ ආවෙ කියලා. එතකොට ඔය විදියට භාග්‍යවතුන් වහන්සේ විටින් විට මේ පිරිස් අටම ඇසුරු කරනවා. මේ තමයි බුදුරජාණන් වහන්සේ ඇසුරු කරන පිරිස් අට. ඔය විදියට පිරිස් අටක්, ඔය විදියට ඇසුරු කරපු ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ බුදුරජාණන් වහන්සේ හැර, අනාගතේ බුදු කෙනෙක් හැර වෙනත් කවුරුවත් නෑ. මේක භාග්‍යවතුන් වහන්සේගේ ජීවිතයේ අසිරිමත් සිදුවීමක්. අසිරිමත් සිදුවීමක්. ඉතින් ඒ නිසා මේ විදියට බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ තියෙනවා පින්වත්නි, බුදුරජාණන් වහන්සේගේ, ඊළඟට සංයුත්ත නිකායේ තුන්වෙනි පොත් වහන්සේගේ ධ්‍යාන සංයුත්තය කියලා තියෙනවා. ඒ සමාධියට සමවදින හැටි, නැගිටින හැටි, සමාධියෙන් වශී කරගන්නහැටි, මේ ඔක්කෝම බුදුරජාණන් වහන්සේ අවබෝධ කරලා ඒ සියල්ලම අවබෝධ නොකරනතාක් කල් සම්මා සම්බුද්ධයි කියලා වදාළේ නෑ. ඒ සියල්ලම අවබෝධ කලාට පස්සෙ තමයි සම්මා සම්බුද්ධයි කියලා ලෝකෙට ප්‍රතිඥා දුන්නෙ. මේ සියලු අවබෝධයත් එක්ක තමයි උන්වහන්සේ ජයසිරිමහා බෝ සෙවණෙන් නැගිට්ටෙ. ඒ නිසා සියල්ල දන්නා වූ සියල්ල දක්නා වූ බුදුරජාණන් වහන්සේ නමක් පින්වත්නි අපි සරණ ගියෙ. අපි සරණ ගියෙ සියල්ල දන්නා වූ දක්නා වූ බුදුරජාණන් වහන්සේ නමක්. ධ්‍යානයෙන්ද, භාවනාවෙන්ද, සමාධියෙන්ද, සමාපත්තියෙන්ද, ඥාණදර්ශනයෙන්ද, ඒ සියල්ලගෙන්ම අගතැන්පත්. මෙවැනි වූ ශාස්තෘන් වහන්සේ නමක් තවත් නම් නෑ පින්වත්නි. ඒ නිසා දෙවියන් බඹුන් සහිත ලෝකයාම බුදුරජාණන් වහන්සේගේ සිරිපා ළඟ දණගහනවා. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ මේ සියල්ල දැනගෙන බුදුරජාණන් වහන්සේ අපිට වදාළා භාවනා වශයෙන් සතර සතිපට්ඨානය. බුදුරජාණන් වහන්සේ, මේ සියල්ල දන්නා වූ දක්නා වූ බුදුරජාණන් වහන්සේ වදාළා අනුස්සති භාවනාව පුරුදු කරන්න, අනුස්සති හයක්. බුද්ධානුස්සති, ධම්මානුස්සති, සංඝානුස්සති, සීලානුස්සති, චාගානුස්සති, දේවතානුස්සති, තව තියෙනවා උපසමානුස්සති කියලා - නිවන ගැන සිහි කරන එක. ඉතින් ඒ නිසා මේ විදියට අනුස්සති භාවනා වදාළා. ගිහි කෙනෙක්ගෙන් බුදුරජාණන් වහන්සේගෙන් ගිහි අය

අහලා තියෙනවා, අපි ගිහි ජීවිතෙන්, ගිහි වස්ත්‍ර දරමින් ඉන්නෙ. අපි කොහොමද හිත වඩන්නෙ. බුදුරජාණන් වහන්සේ ඒ අයට වදාරලා තියෙනවා අනුස්සති භාවනා. ඒ නිසා ඔබ ගිහි අය. ඒ නිසා ඔබට ගොඩාක් උපකාරයි ඔබගේ ගිහි ජීවිතය ධර්මානුකූලව අවබෝධයක් කරා ගෙන යන්න අනුස්සති භාවනා. බුදුරජාණන් වහන්සේ ඒ අනුස්සති භාවනා වදාළේ සරණේ පිහිටලා පන්සිල් රකින අයට. ඒ නිසා ඉස්සෙල්ලාම සරණට එන්න. ඊටපස්සෙ පඤ්චසීලය ආරක්ෂා කරන්න. ඒ අතරේ නිර්වාණ භාවනාවක් විදියට අනුස්සති භාවනාවක් පුරුදු කරන්න. ඉතින් ඒ නිසා සියල්ල දන්නා වූ, සියල්ල දක්නා වූ බුදුරජාණන් වහන්සේ මහා කරුණාවෙන් අනුකම්පාවෙන් අපිට පිහිට වුනා. ඉතින් ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ තුළ තියෙන විශේෂ ඥාණ දර්ශනයක්, අද අපි කතා කලේ අධිදේව ඥාණ දර්ශනය. ඒ වාගේම බුදුරජාණන් වහන්සේ විසින් අවබෝධ කල අෂ්ට විමෝක්ෂ, අෂ්ට අභිබායතන. ඒවා අද අපි කතා කලා. ඒ වාගේම බුදුරජාණන් වහන්සේ ඇසුරු කරන පිරිස් අට ගැන අපි කතා කලා. ඉතින් මේ සියල්ලගෙන්ම සර්ව සම්පූර්ණ වූ, තුන් ලෝකයටම දේවාතිදේව වූ, බ්‍රහ්මාතිබ්‍රහ්ම වූ, නරශ්‍රේෂ්ට වූ, දෙව් මිනිස්සුන්ට ශාස්තෘ වූ බුදුරජාණන් වහන්සේ මුළු හදවතින්ම සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝ රත්නය සරණ යනවා කියලා හිතන්න. අපි සියලු දෙනාට උතුම් සම්බුදු සරණින් ගෞතම බුදු සසුනේ පිහිට ලැබේවා.

ඉතින් පින්වත්නි, අද අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඇමරිකාවේ පින්වත් රණවීර මහත්මිය විසින්. ඉතින් මේ පින්වත් මහත්මිය අප්‍රමාණ පිනක් අද භාග්‍යවතුන් වහන්සේගේ අසිරිමත් ඥාණ, ඒ වගේම ධ්‍යාන භාවනා පිරිස්, ඒ සම්බන්ධයෙන් අන් අයගේ සිත පහදවා ගැනීමට, නොඇසූ දහම් කරුණු ඇසීමට අවස්ථාව සැලසුවා. ඉතින් ඒ නිසා මේවා ඉගෙන ගන්නකොට නොතේරෙනවා වෙන්න පුලුවන් පින්වතුනි. හිත පහදවාගන්න බුදුරජාණන් වහන්සේ මේ සියල්ලම අවබෝධ කලා කියලා. අපිට වචනෙන් කියද්දින්වත් තේරෙන් නැති දේවල් බුදුරජාණන් වහන්සේ ගුරු උපදේශ රහිතව ඒවා පුරුදු කලා, ආශ්චර්‍යයයි. ඉතින් ඒ බුදුරජාණන් වහන්සේගේ අනන්ත ඥාණ සමුදායේ ආනුභාවයෙන්, තුණුරුවන්ගේ ආනුභාව බලයෙන්, මහාසෑයේ මහා බෝධියේ ආනුභාව බලයෙන්, පින්වත්නි, මේ ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ ව්‍යසනය දුරින්ම දුරු වේවා, මේ රෝග ව්‍යසනය. සියලු දෙනාට සියලු රැකවරණය, ආරක්ෂාව සැලසේවා

කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වී සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා පින් පමුණුවමු. විශේෂයෙන්ම පින්වත් රණවීර මැතිනිය බලාපොරොත්තු වෙනවා මියපරලොව ගිය සෝමාවතී වන්නිගම මෑණියන්ට සහ සෑම් රණවීර පියාණන්ට යන දෙපළටත්, කිරින්දේ ලොකුනැන්දාටත් පින් අනුමෝදන් කරන්නට. මේ මෑණියන් බලාපොරොත්තු වෙන විදියටම ඒ දෙමව්පියන්ටත්, කිරින්දේ නැන්දාටත් පින් අනුමෝදන් වේවා, පරලොව සැපයට පත්වේවා. ඒ වගේම පරමපූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි අපි මේ විදියටවත් මේවා ගැන කතා කරන්නෙ, අහන්නෙ, හිත පහදවාගන්නෙ. පරමපූජනීය ගුරුදේවෝත්තම ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත්ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සකල සංඝරත්නය, අනගාරිකා මෑණිවරු, පැවිදි අපේක්ෂක දරුවන් ගෞතම බුදුසසුනේ ධර්මාවබෝධය ලබත්වා කියලා පින් පමුණුවමු. ඒ වගේම ඇමරිකාවේ පින්වත් රණවීර මහත්මියට මේ පින් බලයෙන් නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, ගෞතම බුද්ධ ශාසනයේ සරණ සීලයේ තව තවත් පිහිටලා මේ ගෞතම බුදුසසුනේ ධර්මය පුරුදු කරලා නිවනින් සැනසෙන්න මේ පින් හේතු වාසනා වේවා. ඒ වගේම ඔබ සියලු දෙනාටත් මව් දෙමව්පිය ඥාතී බන්ධුමිත්‍රාදීන්ටත්, ලක්විරු, ගුවන්විදුලියේ, ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, මාධ්‍යය පවත්වාගෙන යන සියලු දෙනාට පින්සිදු වේවා, අපි කාටත් බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණ නිරන්තරයෙන්ම සැලසේවා, දිවිහිමියෙන් බුදුරජාණන් වහන්සේ සරණ යත්වා, ශ්‍රී සද්ධර්මය සරණ යත්වා, ආර්ය මහා සංඝරත්නය සරණ යත්වා, නිවනින්ම සැනසෙත්වා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=4qrzS6nI3Dk&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=39

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන ඔබ ශ්‍රවණය කරන්නෙ. එතකොට මේ දේශනාව මුල ඉඳලම වගේ, දේශනාව මුල ඉඳලම ශ්‍රවණය කරන අය ඉන්නවා. ඉතින් ඒ ඇත්තන්ටත් ගොඩාක් යහපතක්. එක ධර්ම දේශනාවක් ශ්‍රවණය කලත් ඒ අයටත් යහපතක්. තුන් ලෝකෙට කරුණාවෙන් පහළ වුනු බුදුරජාණන් වහන්සේ ගැනනෙ අහන්නෙ. බලන්න මේ ලෝකෙ කෙනෙක් ගැන අහද්දි කෙලෙස් සංසිඳෙනවා කියලා යමක් ඇත්ද, සුගති සම්පත්තිය ලැබෙනවා කියලා යමක් ඇත්ද, අපායේ දුක්ගිනි නිවෙනවා කියලා යමක් ඇත්ද, සසර දුකින් අත්මිදෙනවා කියලා යමක් ඇත්ද, කෙනෙක් ගැන කියද්දී, හිතද්දි, අහද්දි, ඒ බුදුරජාණන් වහන්සේලා නම් ඒකාන්තයෙන්ම ආශ්චර්‍යයි. පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ සිවුරට අතීතයේ වැඳපු අය, අපේ ගෞතම බුද්ධ ශාසනයේ රහත් වෙලා තියෙනවා. බුදුරජාණන් වහන්සේ වැඩිය දිශාවට සාදු කියලා වැඳපු අය රහත් වෙලා තියෙනවා. බුදුරජාණන් වහන්සේ කියන බුද්ධ කියන වචනයට සතුටට පත්වෙච්ච අය අර්හත්වයට පත්වෙලා තියෙනවා. මේ වැඩසටහන ගත්තොත් කීගමනක් නම් 'බුද්ධ' කියන වචනය කියවෙනවද? එතකොට මේ සසරටම, මේ සසරටම අපිට ඇහිච්චි මිහිරිම වචනය බවට පත්වෙනවා. අපේ බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ කඳ කියලා අවසන් කරන්න පුලුවන්ද කියලා. අදත් අපි තවත් ඥාණයක් කතා කරන්නෙ. අද අපි කතා කරන්නෙ බුදුරජාණන් වහන්සේගේ තථාගත කියන ඥාණය ගැන, ගුණය පිළිබඳව, තථාගත. දැන් අපි ඉගෙන ගත්තානෙ භගවත් කියන එකට, භගවා කියන එකට, නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස කියනකොට ඒ භාග්‍යවත්, අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට නමස්කාර වේවානෙ. නමෝතස්ස, නමස්කාර වේවා ඒ භගවතෝ, භාග්‍යවත් වූ අරහතෝ, අර්හත් වූ, සම්මා සම්බුද්ධස්ස, සම්මා සම්බුදුරජාණන් වහන්සේට. එතකොට ඒකෙත් භගවා කියන එකට අර්ථයක් තියෙනවා. අර්හත් කියන එකට අර්ථයක් තියෙනවා. ඊළඟට සම්මා සම්බුද්ධ කියන එකට

අර්ථයක් තියෙනවා. එතකොට නමොතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස කිව්වත් ඒකෙ විස්තර කරන්න තියෙනවා බුදුගුණ. ඒ වගේ තමයි තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ කිව්වාම. එතන තථාගත කියන වචනෙත් තියෙනවා බුදුගුණ. අද අපි ඒක අහන්නෙ. ඉතින් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නේ කොරියාවේ රැකියාවේ නියුතු එම්.ඒ. චතුරංග මෙනමාරච්චි මහත්මයා, කෑගල්ල ප්‍රදේශයේ පදිංචි ඉනෝකා දිල්හානි මහත්මිය, ඒ වගේම සේරුවිල ප්‍රදේශයේ පදිංචි දයා රංජනී මෑණියන් සහ සුනිල් ශාන්ත පියාණන්, අලව්ව ප්‍රදේශයේ පදිංචි යසෝමා මධුවන්ති මහත්මිය සහ රෝහණ ලලිත් මහත්මයා යන පින්වත් පිරිස. මේ සියලු දෙනා එකතු වෙලා මියපරලොව ගිය අයට පින් පිණිසත්, සුජීවත්ව සිටින අයට සෙත් පිණිසත්, ඒ වගේම අධ්‍යාපන කටයුතු කරන දරුවන්ට සෙත් පිණිසත්, ඒ වගේම ලෝක සත්ත්වයන්ට යහපත පිණිසත් අද දවසේ ධර්ම දානයේ පින අනුමෝදන් කරන්න මේ පින්වතුන් බලාපොරොත්තු වෙනවා. ඉතින් මේ පින්වතුන්ට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා, බුදුරජාණන් වහන්සේගේ මේ උතුම් බුදුගුණ කඳ අහන්න සලස්වන එක. එතකොට ලෝකයේම අද ලක්විරු ගුවන්විදුලියෙනුත්, ශ්‍රද්ධා රූපවාහිනියෙනුත් ලෝකෙ කොතනක ඉඳලා හරි පින් තියෙන කෙනෙකු බුදුගුණයක් අහනවා. කොයිතරම් නම් පිනක්ද. ඉතින් ඒ නිසා පින්වත්නි, අද බුදුරජාණන් වහන්සේගේ උතුම් බුදුගුණ කඳ අපි ශ්‍රවණය කරමු. භාග්‍යවතුන් වහන්සේගේ තථාගත ගුණය. මේ තථාගත ගුණය විස්තර කරන්නේ සූත්‍ර දේශනාවක් ඇසුරින්. එතකොට ඔබට ලැබිච්ච වාසනාව තමයි මේ බුදුගුණ හැම එකක්ම විස්තර කරන්නේ සූත්‍ර දේශනාවලින්. එතකොට සූත්‍ර දේශනා ඉගෙන ගන්නත් පුලුවන්, බුදුගුණ ඉගෙන ගන්නත් පුලුවන්. එතකොට ඒක ඔබට ලැබෙන භාග්‍යයක්. අද ඉගෙන ගන්න සූත්‍ර දේශනාව ලෝකාවබෝධ සූත්‍රය. ලෝකය අවබෝධ වීම ගැන වදාළ දෙසුම. එතකොට මේ සූත්‍ර දේශනාව ඉථිඋත්තක පාලියේ තියෙන්නෙ. ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේ වදාළ ධර්මය නවාංග ශාස්තෘ ශාසනය කියලා කොටස් නවයකට බෙදෙනවා. සුත්ත, ගෙය්‍ය, වෙය්‍යාකරණ, ඉථිඋත්තක, ජාතක, අද්භූතධම්ම, වේදල්ල ආදී වශයෙන් කොටස් නවයකට බෙදෙනවා. ඒක අපි වෙනම ඉගෙන ගන්න ඕන ඒ කොටස් නවය. එතකොට එයින් ඉථිඋත්තක පාලිය, මේ තියෙන්නෙ මේ ඉථිඋත්තක පාලියේ පින්වතුනි සම්පූර්ණයෙන්ම මතකයේ තියාගෙන ඉඳලා තියෙනවා ඛුජ්ජුත්තරා. ඒක හරි ප්‍රසිද්ධ කතාවක්. ඛුජ්ජුත්තරා තමයි

ඉතිවුත්තක පාලිය සම්පූර්ණයෙන්ම කටපාඩම් කරගෙන ඉඳලා තියෙන්නෙ. ඉතින් මේ සූත්‍ර දේශනාව හරී ලස්සනයි. මේ සූත්‍ර දේශනාව බුදුගුණ වැහෙනවා. ඉතින් ඒ නිසාම පරමපූජනීය පින්වත් අපේ ලොකු ස්වාමීන් වහන්සේ ඉස්සර ඉඳලම අපිට නිතර සජ්ඣායනා කරන්න හුරු කරවපු සූත්‍රයක්, ලෝකාවබෝධ සූත්‍රය. ඒ වගේම පිරිත් පොත් වහන්සේටත් ඇතුලත් කරලා තියෙනවා. මේ සූත්‍ර දේශනාව ඉතිවුත්තක පාලියෙත් තියෙනවා, අංගුත්තර නිකායෙත්, අංගුත්තර නිකාය දෙකේ ලෝක සූත්‍රයේ විදියටත් මේ සූත්‍ර දේශනාව තියෙනවා. ඉතින් අපි ඒ දේශනාව ඉගෙන ගමු. භාග්‍යවතුන් වහන්සේ වදාළ දේශනාවයි මේ. ලෝකෝ භික්ඛවේ තථාගතේන අභිසම්බුද්ධො, පින්වත් මහණෙනි ලෝකය තථාගතයන් වහන්සේ අවබෝධ කලා. තථාගතයන් වහන්සේ විසින්. ලෝකස්මා තථාගතෝ විසංයුත්තෝ, ඒ ලෝකයෙන් තථාගතයන් වහන්සේ වෙන්ව වාසය කරනවා. ලෝක සමුදයෝ භික්ඛවේ තථාගතේන අභිසම්බුද්ධෝ, ලෝකයේ සමුදය, ලෝකයේ හටගැනීම, බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා. ලෝක සමුදයෝ තථාගතස්ස පහීනෝ, ඒ ලෝකය හටගන්නේ යමකින්ද ඒ හටගන්න ස්වභාවය තථාගතයන් වහන්සේ ප්‍රහාණය කලා. ලෝක නිරෝධෝ භික්ඛවේ තථාගතේන අභිසම්බුද්ධෝ, ලෝක නිරෝධය තථාගතයන් වහන්සේ අවබෝධ කලා, ලෝකය නැතිවෙන හැටි. ලෝක නිරෝදෝ තථාගතස්ස සච්චිකතෝ, ලෝක නිරෝධය තථාගතයන් වහන්සේ සාක්ෂාත් කලා. ලෝක නිරෝධ ගාමිණී පටිපදා භික්ඛවේ තථාගතේන අභිසම්බුද්ධො, ලෝක නිරෝධ ගාමිණී පටිපදාව තථාගතයන් වහන්සේ අවබෝධ කලා. කවුද අවබෝධ කලේ? තථාගතයන් වහන්සේ. ලෝක නිරෝධ ගාමිණී පටිපදා තථාගතස්ස භාවිතා, ලෝකය නිරුද්ධ වන වැඩපිළිවෙල තථාගතයන් වහන්සේ ප්‍රගුණ කලා. පින්වතුනි මේ තමයි තථාගතයන් වහන්සේ කළ දේ, ඉස්සරහට විස්තර වෙන්නේ ඒ මේක කරපු තථාගතයන් වහන්සේ කවුද, ඒකයි මේ සූත්‍රයේ තියෙන්නෙ. සූත්‍රයේ සාරාංශය තමයි මුලින් තියෙන්නෙ. ලෝකය තථාගතයන් වහන්සේ අවබෝධ කලා. තථාගතයන් වහන්සේ ලෝකයෙන් වෙන්ව වාසය කරනවා. එතකොට අවබෝධ කලේ, වෙන්ව වාසය කරන්නේ කවුද? තථාගතයන් වහන්සේ. ඉදිරියට විස්තර කරන්නේ කවුද මේ තථාගතයන් වහන්සේ. ඇයි තථාගත කියන්නේ. එතකොට ඒ තථාගතයන් වහන්සේ විසින් කළ දේ තමයි මේ තියෙන්නෙ. මොකක්ද තථාගතයන් වහන්සේ කරලා තියෙන්නෙ, ලෝකය අවබෝධ කලා. ලෝක සමුදය අවබෝධ කලා, ලෝක නිරෝධය අවබෝධ කලා, ලෝක නිරෝධ

ගාමිණී පටිපදාව අවබෝධ කලා. ඊටපස්සෙ දැන් මේක අවබෝධ කරලා මොකක්ද කලේ, ලෝකය අවබෝධ කලා, ලෝකයෙන් වෙන්ව වාසය කලා. ලෝක සමුදය අවබෝධ කලා, ඒක ප්‍රහාණය කලා. ලෝක නිරෝධය අවබෝධ කලා, ඒක සාක්ෂාත් කලා. ලෝක නිරෝධ ගාමිණී පටිපදාව අවබෝධ කලා, ඒක ප්‍රගුණ කලා. සම්මා සම්බුදු තථාගතයන් වහන්සේ. කුමක්ද ලෝකය, සංයුත්ත නිකායේ ලෝකය කියන එක විස්තර කරනවා, යුද්දතීතෝ භික්ඛවේ තස්මා ලෝකෝති වුච්ඡති, සිදී කැඩි බිදී සිදී වැනසී යන නිසා ලෝකය කියලා කියනවා. වැනසී යන නිසා, සිදෙන බිදෙන නිසා, කැඩෙන නිසා, වැනසෙන නිසා තමයි ලෝකය කියන්නෙ. ඒක තමයි භාග්‍යවතුන් වහන්සේ අවබෝධ කලේ. මොකක්ද කැඩී බිදී වැනසී යන දේ? චක්ඛුං භික්ඛවේ යුජ්ජති, ඇහැ කියන්නේ කැඩී බිදී වැනසී යන දෙයක්. ඇහැ එහෙම වෙන්නැද්ද, මේක බිත්තරේ වගේනෙ. ඕලාරික වශයෙනුත් එහෙමයි. ඒ වගේම ඇහැ ඒ මොහොතේ අනිත්‍ය වෙවී වෙනස් වෙවී යනවානෙ. කැඩෙනවා බිදෙනවා සිදෙනවානෙ. ඊටපස්සෙ රූප, ඇහැට ජේන රූප තමයි ලෝකය කියන්නෙ. සිදෙන වැනසෙන, කැඩෙන බිදෙන දේ. ඇහැට ජේන රූප. එතකොට ඒක තමයි ලෝකය. ඊළඟට ඇසේ විඤ්ඤාණය තමයි ලෝකය. ඇසේ විඤ්ඤාණය කියලා කියන්නෙ ඇහෙන් රූපයක් දැන් ඇහැ ඉදිරියට රූපයක් පැමිණෙනකොට ඇහෙන් මේ රූපය දැනගන්නෙ ඇහේ විඤ්ඤාණය. දැන් කණ ගාවට රූපයක් ආවට ජේන් නෑ, එතකොට කණෙන් දැනගන්නේ ශබ්දය. එතකොට කණෙන් ශබ්දය දැනගන්නේ විඤ්ඤාණයෙන්. එතකොට ඒකට කියනවා සෝත විඤ්ඤාණය. ඊළඟට නාසයේ ඉදිරියට හඬක්වත් රූපයක්වත් ආවත් දැනෙන් නෑ. ගඳ සුවඳක්ම එන්න ඕන. එතකොට ගඳ සුවඳ දැනගන්නේ විඤ්ඤාණයෙන්. දිවට ඔය මොකක්වත් නෑ, රසක් ආවොත් තමයි එයා දැනගන්නෙ. ඒක දැනගැනීම විඤ්ඤාණය. කයට පහසක් දැනගන්නවා. ඒක විඤ්ඤාණය. එතකොට මේ හැමතැනම තියෙන්නෙ දැනගන්න එක. නමුත් ඇහැට වෙනස්, කණට වෙනස්, නාසයට වෙනස්, දිවට වෙනස්. ඒ නිසා කියනවා චක්ඛු විඤ්ඤාණය, සෝත විඤ්ඤාණය, ඝාන විඤ්ඤාණය, ඊළඟට ජිව්හා විඤ්ඤාණය, කාය විඤ්ඤාණය, ඊළඟට මනෝ විඤ්ඤාණය කියලා ඒවට නම් තියෙනවා. දැන් උදාහරණයක් ගත්තොත් තණකොළ වලින් ගින්නක් ඇවිලෙනවා. ඒකට කියනවා තණකොළ ගින්න. ගොමවලින් ගින්නක් අවුලනවා, කියනවා ගොම ගින්න. දර වලින් ගින්නක් අවුලවනවා, කියනවා දර ගින්න. ඊළඟට ගිනිකූරු වලින් අවුලනවා, ගිනිකූරු ගින්න. පත්තරවලින් අවුලවනවා, පත්තර ගින්න,

එක එක නම් තිබ්බට ගින්දර ගින්දරම නේද? ආන්න ඒ වගේ තමයි විඤ්ඤාණයට චක්ඛු විඤ්ඤාණ, සෝත විඤ්ඤාණ, ඝාන විඤ්ඤාණ ආදිය හටගන්න තැන අනුව තමයි ඒ චක්ඛු සෝත ආදී වශයෙන් තියෙන්නෙ. විඤ්ඤාණයේ ස්වභාවය දැනගන්න එක. එතකොට ඒ විඤ්ඤාණය තමයි ලෝකය. එතකොට ඒ ඇසත්, රූපයත්, විඤ්ඤාණයත් එකතු වීමෙන් තමයි පේන්නෙ. කණත්, ශබ්දයත්, විඤ්ඤාණයත් එකතු වීමෙන් තමයි ඇහෙන්නෙ. නාසයත්, ගඳ සුවඳත්, විඤ්ඤාණයත් එකතු වීමෙන් තමයි දැනෙන්නෙ. දිවත්, රසයත්, පහසත් එකතු වීමෙන් තමයි දැනෙන්නෙ. කයත්, පහසත්, විඤ්ඤාණයත් එකතු වීමෙන් තමයි දැනෙන්නෙ ස්පර්ශය. මනසත්, අරමුණුත්, විඤ්ඤාණයත් එකතුවීමෙන් තමයි දැනෙන්නෙ. එතකොට ඒ ස්පර්ශය තමයි ලෝකය. එතකොට ඒ ස්පර්ශය නිසා උපදිනවා නම් යම්කිසි සැපක් හෝ වේදනාවක් හෝ ඒක තමයි ලෝකය. ඔන්න ලෝකය. දැන් හිතන්නකො ඔයාලා ලෝකය කියපු ගමන් එකපාරම පෘථිවිය මතක් වුනා, සක්වල මතක් වුනා, ඒක භාග්‍යවතුන් වහන්සේගේ අවබෝධය තියෙනවා ලෝකවිදූ ශාස්තෘන් වහන්සේ. එතකොට පින්වතුනි ඔය කියන ඕනම ලෝකයක් ඇහැක් නැත්නම්, කණක් නැත්නම්, නාසයක් නැත්නම්, දිවක් නැත්නම්, කයක් නැත්නම්, මනසක් නැත්නම් ලෝකයක් ගැන කතා කළ හැකිද? ඔබ ලෝකය කියලා කතා කරන්නෙම රූපයක්. ලෝකය කියලා ඔබ කතා කරන්නෙම ශබ්දයක් ගැන. ලෝකය කියලා ඔබ කතා කරන්නෙම ගඳ සුවඳක් ගැන. ලෝකය කියලා ඔබ කතා කරන්නෙම පහසක් ගැන. ලෝකය කියලා කතා කරන්නේම අරමුණක් ගැන, සිතිවිල්ලක් ගැන. එතකොට ඒ ලෝකයක් ගැන අපිට කතා කරන්න බෑ මේ ඇස - රූප, කණ - ශබ්ද, නාසය - ගඳ සුවඳ, දිව - රස, කය - පහස, සිත - අරමුණු කියන මේවා නැතිව ලෝකයක් ගැන කතා කරන්න බෑ, එතකොට ලෝකය අවබෝධ කලා වෙන්නෙ මේ කය අවබෝධ කලොත්. ඒකයි ලෝහිතස්ස කියන දිව්‍ය පුත්‍රයා බුදුරජාණන් වහන්සේගෙන් අහන්නෙ ඇවිදලා ලෝකය අවබෝධ කරන්න පුලුවන්ද කියලා. කෙළවරක් දකින්න පුලුවන්ද කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා ඇවිදලා නම් බෑ කියලා. සාදු, සාදු භාග්‍යවතුන් වහන්ස, මම අතීතයේත් ඍෂිවරයෙක් වෙලා හිටියා, දකුණු මුහුදෙ ඉඳලා උතුරු මුහුදට, බටහිර මුහුදෙ ඉඳලා නැගෙනහිර මුහුදට එක පියවරයි තියන්නෙ. එහෙම තියලා අවුරුදු සීයක් මං එච්චර පියවරවල් වලින් සක්වලේ කෙළවරට ගියා. සක්වලේ කෙළවරකට යන්න කලින්ම අතරමගදීන් මං මැරුණා, මට ලෝකෙ කෙළවරක් හොයාගන්න බැරිවුනා කිව්වා.

බුදුරජාණන් වහන්සේ වදාළා ඇවිදලා ලෝක කෙළවරක් කරන්න බෑ, ඒ වුනාට ලොකේ අවබෝධ කරන්නැතිව නිදහස් වෙන්නත් බෑ කිව්වා. ලෝකෙ කෙළවරටම දකින්නැතිව නිදහස් වෙන්නත් බෑ කිව්වා. පින්වත් දිව්‍ය පුත්‍රය මේ ලෝකය කියන්නෙ මේ බඹයක් පමණ දික් වූ මේ ශරීරය කිව්වා. මේ ශරීරය අවබෝධ කලොත් ලෝකය අවබෝධ කලා. අපේ භාග්‍යවතුන් වහන්සේ ගයාවේ වජිරාසන ජයශ්‍රී මහා බෝසෙවණේ සියල්ල අවබෝධ කලානෙ, භාග්‍යවතුන් වහන්සේගේ අවබෝධය. ඒ නිසා පින්වතුනි ඔබට ලෝකය, ඇයි ඉතින් අපි ලෝකයට ඇලෙන්නෙ, ගැටෙන්නේ, බැඳෙන්නේ, මුලා වෙන්නේ ඔක්කෝම මේ ආයතන හයත් එක්කමනේ. එතකොට ඒ ලෝකය බුදුරජාණන් වහන්සේ අවබෝධ කලානෙ. විසංයුතෝ, ඒ දෙක සංයුක්ත වෙලා නෑ එකතු වෙලා නෑ. ඇහැත් එක්ක බුදුරජාණන් වහන්සේ එකතු වෙලා නෑ, කණත් එක්ක එකතු වෙලා නෑ. නාසයත් එක්ක එකතු වෙලා නෑ, දිවත් එක්ක එකතු වෙලා නෑ, කයත් එක්ක එකතු වෙලා නෑ, මනසත් එක්ක එකතු වෙලා නෑ. බුදුරජාණන් වහන්සේ රූපෙත් එක්කත් එකතු වෙලා නෑ, වේදනාවත්, ශබ්දෙත් එක්කත් එකතු වෙලා නෑ, ඊළඟට ගඳ සුවඳ, රස පහස, අරමුණු කිසිම දෙයක් එක්ක බුදුරජාණන් වහන්සේ එකතු වෙලා නෑ. බුදුරජාණන් වහන්සේ විඤ්ඤාණයත් එක්කත් එකතු වෙලා නෑ. බුදුරජාණන් වහන්සේ ස්පර්ශයත් එක්කත් එකතු වෙලා නෑ, බුදුරජාණන් වහන්සේ වේදනාවත් එක්කත් එකතු වෙලා නෑ, බුදුරජාණන් වහන්සේ ලෝකයෙන් වෙන් වෙලා ඉන්නෙ. ඒ කෙරෙහි තියෙන තෘෂ්ණාව ප්‍රහාණය කලා. ඉතින් ඒක තමයි ඊළඟට තියෙන්නෙ. ලෝක සමුදය කියන්නෙ මෙහෙමයි. චක්ඛුං පටිච්ච රූපේ උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං, ඇහැයි රූපයයි නිසා ඇහේ විඤ්ඤාණය උපදිනවා. තින්නං සංගති ඵස්සෝ, ඒ තුනේ එකතුවීම ස්පර්ශයයි. ඵස්ස පච්චයා වේදනා, ස්පර්ශය නිසා වේදනාව හටගන්නවා. වේදනා පච්චයා තණ්හා, වේදනාව නිසා තෘෂ්ණාව උපදිනවා. තණ්හා පච්චයා උපාදානං, ඒ තණ්හාවෙන් බැඳෙනවා. උපාදාන පච්චයා භවො, එතන කර්ම සකස් වෙනවා බැඳිච්ච නිසා. භව පච්චයා ජාති, ඒ කර්ම සකස් වෙන නිසා ඉපදෙනවා. ජාති පච්චයා ජරා මරණං සෝක පරිදෙව දුක්ඛ දෝමනස්සුපායාසා සම්භවන්ති. එහෙනම් ලෝක සමුදය කියන්නෙ මොකක්ද, දුකේ හටගැනීම. කොතනින්ද හටගන්නෙ. මේ ඇහෙන්මයි. ඒක බුදුරජාණන් වහන්සේ ප්‍රහාණය කලා. ආයෙ දුක හැදෙන්න දුන් නෑ බුදුරජාණන් වහන්සේ, ප්‍රහාණය කලා. එතකොට ලෝක නිරෝධය කියන්නෙ මොකක්ද? චක්ඛුං පටිච්ච රූපෙ උප්පජ්ජති පටිච්ච විඤ්ඤාණං, ඇහැයි රූපයයි නිසා

ඇහේ විඤ්ඤාණය හැදෙනවා. තින්නං සංගති ඵස්සො, ඒ තුනේ එකතුවීම ස්පර්ශයයි. ඵස්ස පච්චයා වේදනා, ඒ ස්පර්ශය නිසා වේදනාව උපදිනවා. වේදනා පච්චයා තණ්හා, වේදනාව නිසා, ඒ වේදනාව කෙරෙහි තමයි තෘෂ්ණාව උපදින්නෙ. වේදනාව ඇති කල්හි තෘෂ්ණාව ඇත. යෝ තස්සා යේව අසේස විරාග නිරෝධා උපාදාන නිරෝධෝ, ඒ තෘෂ්ණාව, වේදනාව කෙරෙහි උපදිනවානෙ තෘෂ්ණාවක්. ඒ තෘෂ්ණාවම ඉතුරු නැතිව නිරුද්ධ වෙනවා. අසේස විරාග නිරෝධා උපාදාන නිරෝධෝ, බැඳෙන්නෑ උපාදාන නිරුද්ධ වෙනවා. උපාදාන නිරෝධා භව නිරෝධෝ, උපාදාන නිරෝධයෙන් භවය නිරුද්ධ වෙනවා. භව නිරෝධා ජාති නිරෝධෝ, භව නිරුද්ධ වීමෙන් ඉපදීම නිරුද්ධ වෙනවා. ජාති නිරෝධා ජරා මරණං සෝක පරිදේව දුක්ඛ දෝමනස්සුපායාසා නිරුජ්ඣන්ති. ඒවමේතස්ස කේවලස්ස දුක්ඛකන්ධස්ස නිරෝධෝ හෝති. ඔන්න නිරුද්ධ වෙන හැටි. දැන් එතකොට නිරුද්ධ කරගන්නෙ මොකක්ද, තෘෂ්ණාව. තෘෂ්ණාවයි නිරුද්ධ වෙන්නෙ. ඒක තමයි ලෝක නිරෝධය. එහෙනම් ලෝකයෙන් නිදහස් වෙන්න නම්, තෘෂ්ණාවම නිරුද්ධ කරන්න ඕන. අමා මහ නිවන ලබන්න ඕන නම් තෘෂ්ණාවම නිරුද්ධ කරන්න ඕන. එතකොට ඒ සඳහා තියෙන මාර්ගය බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා. අත්ථකිලමතානුයෝගයත් නෙවෙයි. ඊළඟට කාමසුකල්ලිකානුයෝගයත් නෙවෙයි. ඇත කියන අන්තෙත් නෙවෙයි, නැත කියන අන්තෙත් නෙවෙයි, මොකක්ද ඒ? මජ්ඣිමා පටිපදා. ඒ තමයි ආර්යය අෂ්ටාංගික මාර්ගය. සෙයයතෙදං සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි. මේ තමයි ආර්ය අෂ්ටාංගික මාර්ගය, දුක්ඛ නිරුද්ධ වන, ලෝකය නිරුද්ධ වන වැඩපිළිවෙල. අවබෝධ කලා, ප්‍රගුණ කලා. මේක කලේ කවුද? තථාගතයන් වහන්සේ. දැන් කෙටියෙන්ම ගත්තොත් තථාගතයන් වහන්සේ චතුරාර්යය සත්‍යය අවබෝධ කලා කියන එක නේද මේ තියෙන්නෙ. ඇයි දැන් අපි ගත්තොත් ඇහැ, ඒක තමයි දුක්ඛ ආර්ය සත්‍යය. එතකොට දුක තමයි පටිච්ච සමුප්පාදයෙන් හැදෙන්නෙ. පටිච්ච සමුප්පාදය නිරුද්ධ වීමෙන් තමයි දුක නිරුද්ධ වෙන්නෙ. එතකොට ඒක කරන ක්‍රමය තමයි ආර්ය අෂ්ටාංගික මාර්ගය. එතකොට බුදුරජාණන් වහන්සේ ලෝකය ගැන තියෙන අවබෝධය ඔය විදියට දේශනා කලා. දේශනා කරලා, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, යං භික්ඛවේ, මතක තියාගන්න මේ චතුරාර්ය සත්‍යය අවබෝධ කලේ, නැත්නම් ලෝකය, ලෝකය හටගැනීම, නැතිවීම, නැතිවන මාර්ගය

අවබෝධ කලේ කවුද? තථාගතයන් වහන්සේ. යං භික්ඛවේ සදේවකස්ස ලෝකස්ස සමාරකස්ස සබ්‍රහ්මකස්ස සස්සමණබ්‍රාහ්මණියා පජාය සදේව මනුස්සාය දිට්ඨං සුතං මුතං විඤ්ඤාතං පත්තං පරියේසිතං අනුවිචරිතං මනසා යස්මා තං තථාගතේන අභිසම්බුද්ධං තස්මා තථාගතෝති වුච්චති. පින්වත් මහණෙනි, දෙවියන් සහිත වූ, බඹුන් සහිත වූ, ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත වූ මේ ලෝකයා විසින්, දෙව් මිනිස් ප්‍රජාව විසින්, එතකොට මිනිස්සු විතරක් නෙවෙයි. දෙවියන් මරුන් බඹුන්, ශ්‍රමණ බ්‍රාහ්මණයන්, සියලු දෙව් මිනිසුන් ඒ සියලු දෙනා විසින්ම යමක් දක්නා ලද යමක් ඇත්ද, මිනිස්සු විතරක් දකින ඒවා නෙවෙයි, දෙවියෝ බ්‍රහ්මයෝ, මාරයෝ, සකල ලෝකයම, සකල සක්වලම සියලු දෙනාම දැක්ක දේවල්, අහපු දේවල්, ගඳ සුවඳ විඳපු දේවල්, ලැබූ පහසවල්, හිතපු සිතිවිලි, ඊටපස්සෙ සිතින් හිතපු දේවල්, අනුවිචරිතං මනසා, හිතින් විතර්ක කරපු ඒවා, එතකොට දෙවියෝ හිතපු ඒවා, බ්‍රහ්මයෝ හිතපු ඒවා, ශ්‍රමණ බ්‍රාහ්මණ වරු හිතපු ඒවා, මාරයෝ හිතපු ඒවා, මාර පිරිස හිතපු ඒවා, ඒ සියලුම හිතපු දේවල්, හිතින් විමසපු දේවල් තථාගතයන් වහන්සේ අවබෝධ කලා. සියල්ලම බුදුරජාණන් වහන්සේ දැනගත්තා. යස්මා තං තථාගතේන අභිසම්බුද්ධා. අවබෝධ කලා. තස්මා තථාගතෝති වුච්චති. ඒ නිසා තමයි තථාගත කියලා කියන්නෙ. දැන් බලන්න අපි අපේ බුදුරජාණන් වහන්සේට තථාගතයන් වහන්සේ කියලා කියනකොට ඒකෙ අර්ථය. පින්වතුනි දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකෙ සියලු දෙනාම හිතන දේවල්, ඒ නිසා බුදුරජාණන් වහන්සේ වදාළා, හිතනවා නම් හිතන්න කිව්වා මේ දුක්ඛාර්ය සත්‍යය ගැන. සමුදය නිරෝධ මාර්ගය ගැන. හිතනවා නම් හිතන්න කිව්වා බුදු කෙනෙක් ගැන. ධර්මය ගැන, සංඝරත්නය ගැන, තමන් රකින සිල් ගැන. ඊළඟට තමන් දුන්න දාන ගැන. ඊළඟට සද්දා, සීල, සුත, ත්‍යාග, පඤ්ඤා ආදී ගුණධර්ම ගැන. ඒවා හිතන්න කිව්වා. ඇයි මේ හිතන විමසන හැම එකක්ම භාග්‍යවතුන් වහන්සේ අවබෝධ කලානෙ. එතකොට දෙවියෝ මරුන් බඹුන් සහිත ලෝකෙ සියලු දෙනාම, ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා කාම සිතිවිල්ලක් හිතුවොත්, ඇහැ අසංවර කරගත්තොත්, කණ අසංවර කරගත්තොත්, නාසය අසංවර ගත්තොත්, දිව අසංවර කරගත්තොත්, කය අසංවර කරගත්තොත්, හිත අසංවර කරගත්තොත් ලබති මාරං ආරම්මණං, මාරයා ලබනවා අරමුණක් එතන. මාරයාට එතන අවස්ථාවක් තියෙනවා. එතන තමයි මාරයා හැසිරෙන්නෙ. ඇයි ඉතින් මාරයා හිතන පතන යන එන ඔක්කෝම දන්නවානෙ බුදුරජාණන් වහන්සේ. ඒකයි. ඊළඟට බුදුරජාණන්

වහන්සේ වදාළා ඔය වැරැද්දක් කරනකොට කල්පනා කරන්න කිව්වා මේ වැරැද්ද දෙවියන්ට පේනවා, කොයිතරම් කොතනක හැංගිලා කලත් හිතන්න කිව්වා දෙවිවරුන්ට පේනවා, ඇයි දෙවිවරු හිතන පතන දකින හැම එකක්ම බුදුරජාණන් වහන්සේ අවබෝධ කලානෙ. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කලා එහෙම සංවර වෙන්න. වැරැද්දක් කරනකොට හිතන්න කිව්වා මේක ලෝකෙ ශ්‍රමණ බ්‍රාහ්මණවරුන්ට පේනවා කියලා. ඇයි හිත දියුණු කරපු ශ්‍රමණ බ්‍රාහ්මණ වරුන්ගෙ ඔක්කොම බුදුරජාණන් වහන්සේට පේනවානෙ. කොයි තරම් හැංගිලා වැරැද්දක් කලත් පේනවා. ඔන්න වැරැද්දක් කරනකොට හිතන්න කිව්වා මේ කර්මයෙන් මැරිලා නිරයට යයි, සසරට වැටෙයි කියලා ධර්මය සිහි කරන්න කිව්වා. ඒකයි පින්වතුනි. එතකොට බුදුරජාණන් වහන්සේ එක වචනයක් දේශනා කරන්නේ නිකං නෙවෙයි, බුදුරජාණන් වහන්සේගේ ඒ අවබෝධය සුලු දෙයක් නෙවෙයි පින්වතුනි. ඒ දැනුම දැන් ගොඩාක් අය පත පොතින් අරන් කරුණු කියන්නෙ. ඔබගේත් ඔබ ඉගෙන ගත්තු දේවල් පතපොතින් ගත්තු කරුණු. එතකොට ඔබ යම්කිසි ස්කෝලෙ ඉගෙනගන්න සිංහල ගුරුවරයෙක් වුනත්, එයා සිංහල විෂය සම්බන්ධයෙන් තියෙන සියල්ලම කියවලත් නෑ, ගණිතය ගුරුවරයා ගණිත අංශයේ තියෙන සියල්ල කියවලත් නෑ, තමන්ට අදාල සබ්ජෙක්ට් එකේ පවා. ඒ වුනාට බුදුරජාණන් වහන්සේ සකල ලෝකෙ දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකෙ සියලු දෙනා අහන පේන දකින හැම එකක්ම බුදුරජාණන් වහන්සේ අවබෝධ කලානෙ. බුදුරජාණන් වහන්සේ වදාළා මාරයා මේ මිනිස්සු ග්‍රහණය කරගෙන ඉන්නෙ මෙහෙම කිව්වා. හරියට, ඔන්න ඉබ්බෙක් ඉන්නවා. එතකොට බඩගින්නේ හිවලෙක් යනකොට ඉබ්බා ළඟට යනකොටම ඉබ්බා ඇතුලට ගත්තා අත් කකුල්, ඔළුවත් ඇතුලට ගත්තා. ඊටපස්සෙ මොකද කරන්නෙ හිවලා ළඟට ඇවිල්ලා බලන් ඉන්නවා, දාපං කකුලක් අල්ලගන්නවා, දාපං ඔළුවක් අල්ලගන්නවා, කියලා බලාගෙන කිව්වා ඉන්නෙ. ඒ වාගේ කව්රුහරි නිවන් දකින්න මහන්සි වෙනකොට මාරයා බලාගෙන ඉන්නවා කිව්වා, ඇහැ අසංවර කරගනිත් උඹව නොමඟ යවනවා. කණ අසංවර කරගනින්, නාසය අසංවර කරගනින්, දිව අසංවර කරගනින්. ඔය විදියට බලනකොට මේ ලෝක සත්ත්වයාම අල්ලෙ නටනවානෙ. බුදුරජාණන් වහන්සේගේ තථාගත ගුණය මේ, සියල්ල අවබෝධ කලානෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දැන් ඔන්න ඊළඟට තථාගත කියන්නෙ ගුණය ඒ. මේ දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකයේ සියලු දෙනා දැක්ක කෙනෙකුට පින්වතුනි, අතීත, අනාගත, වර්තමාන තුන් කාලයේම අහපු කෙනෙකුට අතීත,

අනාගත, වර්තමාන තුන් කාලයේම, එතකොට ඔබ දැන් යමක් හිතුවොත් ඒ හිතන එක බුදුරජාණන් වහන්සේ ඒ කාලයේ බුදුරජාණන් වහන්සේගේ අවබෝධයට අහුවෙච්ච් එකක් ඒක. ඔබ යමක් හිතුවොත් පැතුවොත් මනසින් සිහි කලොත් මේක නම් බුදුරජාණන් වහන්සේ දැනගත්තෙ නැති එකක් වෙන්න ඇති කියලා එහෙම එකක් නෑ, ඒක අවබෝධ කලා ඒ කාලෙම බුදුරජාණන් වහන්සේ. ඒක තමයි භාග්‍යවතුන් වහන්සේගේ ධර්මය අකාලික. ඕනම කාලයකට සුදුසුයි. ධර්මය අකාලිකයි. පුද්ගලයෝ හීන වෙනවා ප්‍රනීත වෙනවා. ධර්මයට සුදුසු අය වෙනවා, නුසුදුසු අය වෙනවා. ධර්මය අකාලිකයි. ඒ නිසයි අපේ බුදුරජාණන් වහන්සේට තථාගත කියන්නෙ. ඊළඟට තියෙනවා යංච භික්ඛවේ රත්තිං තථාගතෝ අනුත්තරං සම්මා සම්බෝධිං අබිසම්බුද්ධති යංච රත්ති අනුපාදිසේසයා නිබ්බාණ ධාතුයා පරිනිබ්බායති, යම් රාත්‍රියක බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුදු වෙනවාද ගයාවේ වජිරාසනයේ, යම් රාත්‍රියක අනුපාදිසේස පරිනිර්වාණ ධාතුවෙන් පිරිනිවන් පානවාද කුසිනාරාවේ, යං ඒතස්මිං අන්තරේ භාසති ලපති නිද්දති, ඒ අතරතුර බුදුරජාණන් වහන්සේ යමක් ප්‍රකාශ කරනවාද, පනවනවාද, ඒ වගේම දේශනා කරනවාද, නිර්දේශ කරනවාද, සබ්බං තං තතේව හෝති නොඅඳඤ්ඤතා තස්මා තථාගතෝති වුච්ඡති. ඒ අතරතුර දේශනා කරන සියල්ලම ඒ විදියට සිද්ධ වෙන්නෙ වෙන විදියකින් නෙවෙයි. තස්මා තථාගතෝති වුච්ඡති, ඒ නිසයි බුදුරජාණන් වහන්සේට තථාගත කියලා කියන්නෙ. පුදුම සහගතයි. බුදුරජාණන් වහන්සේ වදාළා නම් සද්දා මත්තං පේම මත්තං සබ්බේතේ සබ්බපරායනා කියලා ඒකාන්තයෙන් සිද්ධ වෙනවා. ඉරහඳ සුණුවිසුණු වෙලා ගියත්, මහපොළොව පෙරලී ගියත් භාග්‍යවතුන් වහන්සේගේ වචනය වෙනස් වෙන් නෑ. බුදුරජාණන් වහන්සේ වදාළා නම් කාය දුශ්චරිතය, වචීදුශ්චරිතය, මනෝ දුශ්චරිතය, මිත්‍යා දෘෂ්ටිය, මිත්‍යා දෘෂ්ටි කර්ම සමාදන් වීම, ඊළඟට ආර්ය උපවාදයෙන් දුගතියේ උපදින්නෙ, දුක් විපාකයි ලැබෙන්නේ කියලා ඇත්තටම දුශ්චරිතයෙන් දුක් විපාකම තමයි. සුචරිතයෙන් සැප විපාකම තමයි. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා නම් අනුස්සති භාවනාව තුළින් බුද්ධ ශාසනයේ එයාට නිර්වාණය කරා යන්න මාවත හැදෙනවා කියල, ඒ ප්‍රකාශය ප්‍රකාශයම තමයි. සතර සතිපට්ඨානය මනාව වැඩුනු කෙනා දවස් හතකින් රහත් වෙනවා කියලා වදාළා නම් එක්කො අනාගාමී වෙනවා කියලා, ඒක වෙනවාම තමයි. ඒ බුදුරජාණන් වහන්සේ දේශනා කරන වචනයේ දෙකක් නෑ, සිද්ධ වෙනවාමයි. අසුභ භාවනාව මනාව වඩනකොට රාගය ප්‍රහාණය වෙනවා කියලා වදාළා නම්

ඒක සිද්ධ වෙනවාම තමයි. මෛත්‍රිය වඩනකොට ද්වේෂය ප්‍රහාණය වෙනවා කියලා වදාළා නම් සිද්ධ වෙනවාම තමයි. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා නම් මුදිතාව වඩනකොට රාගය ප්‍රහාණය වෙනවා කියලා එය සිද්ධ වෙනවාම තමයි. බුදුරජාණන් වහන්සේ වදාළා නම් ප්‍රියමනාප දෙයින් වෙන්වෙද්දි දුක උපදිනවා කියලා දුක උපදිනවාම තමයි. ඒ තමයි බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරපු දේ ඒ විදියටම වෙනවා. අනිච්ඡා භික්ඛවේ සංකාරා සියලු සංස්කාරයෝ අනිත්‍යයි කිව්වා. කෝ දැන් නිත්‍ය දෙයක් කියන්නෙ. අද්දුවා භික්ඛවේ සංකාරා, අස්ථිරයි සියලු සංස්කාර ධර්මයෝ කිව්වා, ස්ථිර දෙයක් කියන්න. අනස්සාසිකා භික්ඛවේ සංකාරා, පිහිටක් නෑ කිව්වා දැන් මොකේද එල්ලෙන්නෙ. පිහිටක් නෑ. ඔක්කෝම අතපත ගානවා කොහේහරි එල්ලෙන්න. දඟලලා දඟලලා බෙහෙත් බිබී බෙහෙත් බිබී කොහොමහරි දඟලලා ජීවත් වෙන්න දඟලලා දඟලලා පණ අදිනකොට බට ගහලත් බේරගන්න දඟලලා දඟලලා අවසානෙ හෝස් ගාලා හුස්ම ටික දානවා, බේරිච්ච කෙනෙක් කියන්න බලන්න. බුදුරජාණන් වහන්සේ වදාළ දේ ඒකාන්තයෙන් සත්‍යයයි. ඒකාන්තයෙන් සත්‍යයයි. බුදුරජාණන් වහන්සේ වදාළා ශ්‍රාවකයෙකුට හිතන්න කිව්වා බුදුරජාණන් වහන්සේ මම වයසට යනවා, වයසට යන ස්වභාවයෙන් යුක්තයි. ලෙඩ වෙනවා, ලෙඩ වෙන ස්වභාවයෙන් යුක්තයි. මරණයට පත්වෙනවා, මරණයට පත්වෙන ස්වභාවයෙන් යුක්තයි. මම ප්‍රියයන්ගෙන් වෙන් වෙනවා, ප්‍රියයන්ගෙන් වෙන් වෙන ස්වභාවයෙන් යුක්තයි. මම කර්මය දායාද කරගෙන ඉන්නෙ. කම්මසුකෝම්හි කම්ම දායාදෝ කම්මයෝනි කම්බන්ධු කම්ම පටිසරණෝ යං කම්මං කරිස්සන්ති කල්‍යාණංවා පාපකම්මා තස්ස දායාදෝ පරිස්සාමිති. යම්කිසි කර්මයක් මම කලොත් හොඳ හෝ නරක හෝ ඒක තමයි මට දායාදය විදියට හම්බෙන්නේ, කර්මය ස්වකීය දේ කරගෙන ඉන්නවා කියලා නිතර නිතර හිතන්න කිව්වා. ගහට්ඨාවා පබ්බජිතේන වෛත්‍යාවා පුරුසාවා, ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් හෝ ගෘහපතියෙක් හෝ පැවිද්දෙක් හෝ මෙන්න මේ කරුණු පහ සිතනකොට කම්ම සූත්‍රයේ වදාළේ. එහෙම සිහි කරනකොට සිහි කරනකොට එයාගේ අතින් අකුසල් දුරු වෙනවා, කුසල් උපදිනවා. එයාට මාර්ගය පේන්න ගන්නවා. තං මග්ගං භාවේති, ඒ මාර්ගය අනුගමනය කරනවා, ධර්මය අවබෝධ කරනවා. සිද්ධ වෙනවාමයි ඒක. බුදුරජාණන් වහන්සේ වදාළ දෙයක්. නොවී නම් තියෙන්නෑ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ වදාළ සිල්පද නිවන පිණිසමයි තියෙන්නෙ. ඒ සිල්පද කඩ කඩා නිවන් දකින්න නම් බෑ, බුදුරජාණන් වහන්සේ තථාගතයිනෙ. ප්‍රකාශ කරන දේ ඒ විදියටම

වෙනවානෙ. ඒ නිසා මේකනම් පින්වතුනි, ගෙදර ලියලා කොළේක හරි ගහගෙන ඉන්න නිතර ජේන විදියට. යම් රාත්‍රියක බුදුරජාණන් වහන්සේ බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුදු වුනාද, යම් රාත්‍රියක පිරිනිවන් පෑවද ඒ අතරතුර භාග්‍යවතුන් වහන්සේ නිර්දේශ කරන ප්‍රකාශ කරන පනවන ඒ සෑම දෙයක්ම ඒ අයුරින්මයි වෙන්නේ, වෙන අයුරකින් වෙන්නෙ නෑ කියලා. මේකම ඇති ශ්‍රද්ධාවට. බුදුරජාණන් වහන්සේ වදාළ දේ ඒ විදියටමයි සිද්ධ වෙන්නෙ. බාහිර දෙයක් වුනත් සුනීත වස්සකාර දෙදෙනා රජගහනුවර තිබ්බ රාජධානිය පාඨලීපුත්‍රයට අරන් ගියා. පාඨලීපුත්‍ර කියන්නෙ පැට්නා වලට. බුදුරජාණන් වහන්සේ වදාළා මේ නගරය අනාගතයේ හොඳ වෙළෙඳ නගරයක් වෙනවා කියලා. අද බිහාර් ප්‍රාන්තය ගත්තොත් එහෙම පැට්නා තමයි ලොකුම ව්‍යාපාර නගරය. හැබැයි බුදුරජාණන් වහන්සේ වදාළා මේ නගරය ගින්නෙන් ජලයෙන් නිතර නිතර විනාශ වෙනවා කියලා. ඒක අජාසත්ත රජ්ජුරුවන්ගේ මාළිගාව, අශෝක රජ්ජුරුවන්ගේ මාළිගාව කැණීම් කරද්දි පාඨලීපුත්‍රයේ, අඩි පහළොවක් පොළොව ඇතුලේ තමයි තිබිලා තියෙන්නෙ මාළිගාවෙ නටඹුන්. ඒක කැණීම් කරගෙන යනකොට ගිනි අඟුරු තට්ටුවක් තියෙනවා, වැලි තට්ටුවක් තියෙනවා. අඟුරු තට්ටුවක් තියෙනවා. වැලි තට්ටුවක් තියෙනවා. ඒ කියන්නෙ වතුරෙන් විනාශ වෙලා, ගින්නෙන් විනාශ වෙලා. ශාස්තෲන් වහන්සේගේ වචනය හරිනෙ. මේ සාමාන්‍ය දෙයක් පිළිබඳව. ඒක ඒ විදියට සිද්ධ වෙනවාමයි. ඉතින් ඒ නිසා පින්වතුනි ඒකට නොයෙක් කරුණු තියෙනවා, නොයෙක් උපමා වලින් විස්තර කරන්න පුලුවන්. නමුත් වෙලාවෙ හැටියට ඔය විස්තර කළේ. නැතිනම් ඒ කාලෙ භාග්‍යවතුන් වහන්සේ ප්‍රකාශ කරපු දේවල් කොච්චර සත්‍යයද? මෙහෙම ඉරවල් හතක් පායලා මේ ලෝකෙ සුණුවිසුණු වෙලා යනවා කිව්වා. සිද්ධ වෙනවාමයි. අවුරුදු දහයට මේ මනුස්සයාගෙ ආයුෂ අඩුවෙනකොට ද්වේෂය වැඩිවෙලා මුරුග සංඥාව උපදිනවා කිව්වා. වැද්දෙකුට මුවෙක් දකින්නා වගේ මරන්නමයි හිතෙන්නෙ කිව්වා. දැනටත් එහෙමනෙ. ඊළඟට අවුරුදු සීයට අඩු වෙලා මේ සත්ත්වයාගේ ආයුෂ අඩුවෙනකොට රාග ගින්න, අධර්ම රාගය වැඩි වෙනවා කිව්වා. දැන් කොච්චර අධර්ම රාගයද. සම්මතය ඉක්මවා ගිහිල්ලා විකෘති ආශාවලින් කොච්චර පීඩා විඳිනවාද. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ වදාළ දේමනේ සිද්ධ වුනේ. අන් ආකාරයකින් සිද්ධ වෙන් නෑ. පිහිටවාගන්න ශ්‍රද්ධාව. සරණ යන්න බුදුරජාණන් වහන්සේ යළි යලිත්. භාග්‍යවතුන් වහන්සේ ප්‍රකාශ කරපු දේ ඒ විදියටමයි සිද්ධ වෙන්නෙ. අන්න ඒ බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරපු දේ ඒ විදියටම සිද්ධ වෙනවා කියන එකට ගුණයක් තියෙනවා.

මොකක්ද ඒ ගුණය? තථාගත. යථාවාදී භික්ඛවේ තථාගතො තථාකාරි, යථාකාරී තථාගතෝ තථාවාදී, ඉති යථාවාදී තථාකාරී තථාකාරී තථාවාදී තස්මා තථාගතෝති වුච්ඡති. මේක වෙනම දවස් ගණන් වරු ගණන් කතා කරන කොටසක් මේ. ඒ තමයි, යමක්ද බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරන්නේ ඒ ආකාරයටමයි කටයුතු කරන්නෙ. යම් ආකාරයකින් ද කටයුතු කරන්නේ, ඒ ආකාරයෙන්මයි ප්‍රකාශ කරන්නෙ. යමක් කියයිද එය කරයි. යමක් කරයිද කියන්නෙ එයයි. ඒ නිසා බුදුරජාණන් වහන්සේට කියනවා තථාගත. ඉස්සර ඉගෙන ගත්තේ යථාවාදී තථාකාරී ගුණය කියලානෙ. තථාගත. සත්‍යයට පැමිණිලා. එතකොට බුදුරජාණන් වහන්සේ ප්‍රකාශ කරන දේ ඒ විදියටමයි. ඇයි ඉතින් දසබල ඥාණ තුළ, විශාරද ඥාණ තුල පිහිටලානෙ. බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුදු වුනාට පස්සෙ මාරයා පස්වෙනි සතියෙම ඇවිල්ලා කිව්වානෙ පිරිනිවන් පාන්න කියලා. බුදුරජාණන් වහන්සේ වදාලා මාගේ භික්ෂු භික්ෂුණී උපාසක උපාසිකා කියන සිව්වනක් පිරිස, ධර්මධර විනයධර සුපේෂල ශික්ෂාකාමී පරවාද මතනය කරන්න පුලුවන් පිරිසක් වෙනකල් තථාගතයන් වහන්සේ පිරිනිවන් පාන් නෑ කියලා. ඉතින් ඇත්තටම බුදුරජාණන් වහන්සේ ඒ දේ කලා. ශ්‍රාවක සඟරුවන බිහිකලා. ඊටපස්සෙ තමයි බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ, දැන් බාහිර දෙයක් කියමු. බුදුරජාණන් වහන්සේ වදාළා ගන්දබ්බ, මං සැවැත්නුවර අඹ වෘක්ෂයක් මුල යමා මහ ප්‍රාතිහාර්ය පානවා කියලා. තීර්ථකයෝ යොදුනක් දුරට සැවැත්නුවර පුංචි අඹ පැලයක්වත් ඉතුරු කරන්නැතිව අයින් කරලා තියෙනවා. එදා බුදුරජාණන් වහන්සේට පිණ්ඩපාතෙ ලැබුනු අඹගෙඩිය වළදලා ඒ අඹ ඇටය එතන දාලා පැන් ටිකක් වත්කලා. එහේම්මම රියන් පනහක් උස අඹ වෘක්ෂයක් හැදුනා. ඒ අඹ වෘක්ෂය ළඟ ඉඳලා තමයි භාග්‍යවතුන් වහන්සේ යමක මහා ප්‍රාතිහාර්ය ඒ අඹ ගහ ඇසුරු කරගෙන පෑවෙ. කියන දේ කරනවා, කරන දේ කියනවා. බුදුරජාණන් වහන්සේ තුන්සිවුරෙන් වාසය කලා. ශ්‍රාවක සංඝරත්නයටත් තුන් සිවුරෙන් වාසය කරන්න වදාළා. ඒ වාගේ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ මුළු ජීවිතේම තියෙන්නෙ කියන දේ කරන, කරන දේ කියන. දැන් ඇත්තටම අපි ගත්තොත් එහෙම පින්වතුනි අපි අණබෙර කාරයො වගේ. ඒ කියන්නෙ භාග්‍යවතුන් වහන්සේගේ පණිවිඩය ගෙන්නගෙන යන භික්ෂූන් වහන්සේලා. එතකොට මෙතන තියෙන ධ්‍යාන, සමාධි, සමාපත්ති, නිර්වාණ මාර්ගය, කුසල් ඊළඟට භාවනා ක්‍රම, මනසිකාර ක්‍රම අපි ධර්ම දේශනා වශයෙන් කලාට අපිට ඒ සියල්ලම ප්‍රගුණ කිරීමට

අවස්තාවක් සහ ඒ පුරුදු කිරීමට අවස්ථාව යෙදෙන් නෑ, අපි ඒ දේශනාව අරන් එන්නෙ. මේ දේශනාව බුදුරජාණන් වහන්සේගේ. නමුත් බුදුරජාණන් වහන්සේ ධ්‍යාන ගැන දේශනා කරනකොට උන්වහන්සේට ඒ ධ්‍යාන තියෙනවා. විමෝක්ෂ ගැන දේශනා කරනකොට ඒ විමෝක්ෂ බුදුරජාණන් වහන්සේට තියෙනවා. ලෝකය ගැන දේශනා කරනකොට බුදුරජාණන් වහන්සේ ඒක අවබෝධ කලා. දැන් අපි අපාය ගැන කියනවා දේශනාවෙන් අරන්. බුදුරජාණන් වහන්සේ අපාය ගැන කියන්නෙ දැක දැක. අපි දිව්‍යලෝකෙ ගැන කියනවා බුද්ධ දේශනාවෙන් අරන්. බුදුරජාණන් වහන්සේ දිව්‍යලෝක ගැන කියන්නෙ දැක දැක. කියන දේ කරන, කරන දේ කියන උත්තමයන් වහන්සේ. එතකොට බුදුරජාණන් වහන්සේට තථාගත කියන්නේ. නොයෙක් වචනයෙන්, නොයෙක් උපමාවෙන්, නොයෙක් නිදර්ශනයෙන් ඔය කරුණු තේරුම් ගන්න ඕන. බුදුරජාණන් වහන්සේ කරන දෙයක්මයි කියලා තියෙන්නෙ. කියන දෙයක්මයි කරලා තියෙන්නෙ. ඒ නිසා මේ මුලු බුද්ධ ශාසනයේම මේ සියලු නිවන් මාර්ගය පිළිබඳව සියලු වැඩපිළිවෙලවලක් තියෙනවා නම් ඒ සියල්ලම බුදුරජාණන් වහන්සේ වදාරපු දේවල්නෙ. ඒ ඔක්කොම කරලා තියෙනවා. බුදුරජාණන් වහන්සේ යම්තාක් දේවල් කියලා තියෙනවා නම්, ඒ හැමදෙයක්ම බුදුරජාණන් වහන්සේ කරලා තියෙනවා. මේ බුදුරජාණන් වහන්සේගේ සුවාසූදහසක් වූ ධර්මස්කන්ධය වනාහි යථාවාදී තථාකාරී, තථාවාදී යථාකාරී ධර්මයක්. මුලු බුද්ධ ශාසනයේම තියෙන්නෙ තථාගත කියන ගුණය. නැද්ද? තථාගත ගුණය. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සදේවකේ ලෝකෙ භික්ඛවේ සමාරකේ සබ්‍රහ්මකේ සස්සමණංබ්‍රාහ්මණියා පජාය සදේව මනුස්සාය තථාගතෝ අභිබූ අනභිභූතො අඤ්ඤදත්ථු දසවත්ති තස්මා තථාගතෝති වුච්ඡති, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පින්වත් මහණෙනි, දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත මේ ලෝකෙ, දෙව් මිනිස් ප්‍රජාව තුළ තථාගතයන් වහන්සේ සෑම දෙයක්ම මැඩ පැවැත්වූවා. හැම දෙයක්ම මැඩ පැවැත්වූවා. අනභිබවනය වුනා. උත්තමභාවයට පත්වුනා. ඒකාන්තයෙන් සියල්ල අවබෝධ කලා. සියල්ල වසඟයට ගත්තා. බුදුරජාණන් වහන්සේට කියනවා වසවර්ති කියලා. වසවර්ති කියන්නෙ සියල්ල වසඟයට ගත්තා. ඒ කියන්නෙ දැන් ඇහේ වසඟයටනෙ සත්ත්වයා යන්නෙ. කණේ වසඟයට. ඇයි බලන්න හිතුනොත් එයා යනවා. එතකොට එයා වසඟ වෙලා ඉන්නෙ. බුදුරජාණන් වහන්සේ නෑ, ධ්‍යාන වුනත් බුදුරජාණන් වහන්සේගේ වසඟයේ තියෙන්නෙ. ඊළඟට බ්‍රහ්මලෝකෙ වුනත් භාග්‍යවතුන් වහන්සේගේ

වසඟයට ගන්න පුලුවන්. ඒකනෙ අර බක බ්‍රහ්මයා සෘද්ධියෙන් ප්‍රාතිහාර්ය කරන්න හදනකොට බුදුරජාණන් වහන්සේ ඒක වසඟ කලේ බැරිවෙන විදියට. බුදුරජාණන් වහන්සේගේ දේ කාටවත් වළක්වන්න බැනෙ. ඒ නිසා බ්‍රහ්ම ලෝක දක්වා බුදුරජාණන් වහන්සේගේ වසඟයේ පවතින්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේට වසවර්ති කියලා කියන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ සියල්ල මැඩ පවත්වලා, භාග්‍යවතුන් වහන්සේ සියල්ලගෙන්ම උත්තරීතර වෙච්චි නිසා බුදුරජාණන් වහන්සේට කියනවා තථාගත කියලා. අපේ බුදුරජාණන් වහන්සේ සියල්ලගෙන්ම අග්‍රයි. අපේ බුදුරජාණන් වහන්සේ තුන් ලෝකෙන්ම අග්‍රයි. සියල්ල මැඩපවත්වනවා අපේ බුදුරජාණන් වහන්සේ. සරණ යන්න යළි යලින් මගේ බුදුරජාණන් වහන්සේ. නිතර සිහි කරන්න. මම දිවි හිමියෙන් බුදුරජාණන් වහන්සේ සරණ ගියා කියලා. ධර්මය සරණ ගියා කියලා, සංඝරත්නය සරණ ගියා කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ විදියට වදාළා. මේ ආකාරයෙනුත් කියන්න පුලුවන්. ඒ තමයි සබ්බ ලෝකං අභිඤ්ඤාය සබ්බ ලෝකෙ යථාතතං සබ්බ ලෝකං විසංයුතෝ සබ්බ ලෝකේ අනූපයෝ, ලොකු ස්වාමීන් වහන්සේ පරිවර්තනය කරලා තියෙන විදියටම කියන්නම්. සියලු ලොවම අවබෝධ කලා වූ, හැම ලොව ඇති තතු දැනගත්තා වූ, හැම ලොවෙන්ම වෙන්වී සිටියා වූ, සියලු ලොවට ඇති ආශා දුරු වූ, සබ්බේ සබ්බාභිභූධීරෝ සබ්බ දන්තපමෝචනෝ ඵුට්ඨස්ස පරමංසන්ති නිබ්බාණං අකුතෝභයං, හැම දෙයම මැඩලූ නුවණැති මුණිඳුනි, කෙලෙස් ගැටයෙන් නිදහස් වූ මුණිඳුනි, ඔබ දුටු ඒ අම නිවනද මුණිඳුනි බිය කිසිවක් නැති නිවනය මුණිඳුනි. ඒස කීනාසව බුද්ධෝ අනේගෝ චින්නසංසයෝ සබ්බසම්මක්කයං පත්තෝ විමුක්තෝ පතිසංකයෝ. කෙලෙස් රහිත වූ බුදු සමිඳාණෙනි, දුක් නැති සැක නැති මුණිවරයාණෙනි, සියලු කර්ම ක්ෂය කළ මුණිඳානෙනි, අකුසල් නැති අර්හත් මුණිඳානෙනි, ඒසසෝ භගවා බුද්ධෝ ඒස සීහෝ අනුත්තරො සදේවකස්ස ලෝකස්ස බ්‍රහ්මචක්කං පවත්තති, අපගේ භගවත් බුදුසමිදාණෙනි, ලොවේ අනුත්තර සිංහ රජාණෙනි, දෙව් මිනිසුන් හට සැපත සදාලන දම්සක් පැවතුම් ඇති මුනිදානෙනි, ඉතිදේවා මනුස්සාච, යේ බුද්ධං සරණං ගතා සංගම්ම තං නමස්සන්ති මහන්තං වීතසාරදා, ලොවේ සිටින නුවණැති දෙව් මිනිසුන් සම්බුදු සමිඳුන් සරණ ගියෝ, ලොවේ විශාරද ගුණ මුහුදාණන් දැක ඒ හැම දෙන වැඳ වැටුනෝ. මේ ලෝකයේ සියලු සත්ත්වයෝ නුවණැති අය පින් තියෙන අය බුදුරජාණන් වහන්සේ සරණ ගියා. සියලු ලෝක සත්ත්වයා ඒ උතුම් සිරිපා කමල් ළඟ වැඳවැටුනා. දන්තෝ දමයතං සෙට්ඨෝ සන්තෝ සමයතං ඉසි මුත්තෝ මෝච යතං අග්ගෝ

තින්නෝතාරේ තංවරෝ, දැමුණු සිතින් යුතු බුදු සමිදාණෙනි, පුරිසදම්මසාරථී මුණිදානෙනි, ශාන්ත සිත් ඇති ඉසිවරයාණෙනි, හැම සිත් සනසන මුණිවරයාණෙනි, දුකින් මිදී ගිය අර්හත් මුණිදුනි, අන් අය මුදවන අගරජිදාණෙනි, ලොවින් එතෙර වූ පුණ්‍යවතාණෙනි, අනුන් එතෙර කරවන මුණිදාණෙනි, ඉතිහේතං නමස්සන්ති මහන්තං වීතසාරදං, සදේවකස්මිං ලෝකස්මි නත්ථි තේ පටිපුග්ගලෝති. ලොවේ විශාරද ගුණසයුරාණෙනි, ඔබහට දෙව් මිනිසුන් නමදිත්මය, සදෙව් ලොවේ ඔබ හා සම කිසිවෙක් වෙන නැත ඔබමය බුදු සමිදාණන්, මේ දෙවියන් සහිත සියලු ලෝකයා බුදුරජාණන් වහන්සේ ළඟ වැඳ වැටෙනවා කියනවා ඔබ වහන්සේ හැර උතුම් පුද්ගලයෙක් තුන් ලෝකෙම නෑ කියලා. ඉතින් ඒ නිසා තුන් ලෝකෙම නැති අප්පටිපුග්ගල වූ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ තථාගත ගුණයෙන් බබළන බුදුරජාණන් වහන්සේ දිවි හිමියෙන් සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. උතුම් සම්බුදු සරණින් ඔබ සැනසේවා.

ඉතින් පින්වත්නි, අද අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන, ඉතින් මේ වෙලාවේ හැටියටයි ඔය විදියට අපි ටිකක් කතා කළේ. මේ රැයක් එළිවෙනකල් දවස් ගණන් වරු ගණන් අවුරුදු ගණන් කතා කරන බුදුගුණ. ඉතින් මේ ධර්ම දේශනාව අද විකාශනය කරන්න දායකත්වය දරන්නේ කොරියාවේ රැකියාවේ නියුතු එම්.ඒ. චතුරංග වෙනමාරච්චි මහත්මයා, කෑගල්ල ප්‍රදේශයේ පදිංචි ඉනෝකා දිල්හානි මහත්මිය, සේරුවිල ප්‍රදේශයේ පදිංචි දයා රංජනී මැණියන්, සුනිල් ශාන්ත පියාණන්, අලව්ව ප්‍රදේශයේ පදිංචි යසෝමා මධුවන්ති මහත්මිය සහ රෝහණ ලලිත් මහත්මයා යන පින්වතුන් පිරිස. ඉතින් අද දවසේ මේ රැස් කරගත්ත පින් බලයෙන්, භාග්‍යවතුන් වහන්සේගේ ලෝකාවබෝධ ගුණයේ ආනුභාව බලයෙන්, තථාගත ගුණයේ ආනුභාව බලයෙන්, තුන්ලෝකෙටම අගරජ වූ බුදුරජාණන් වහන්සේගේම ආනුභාව බලයෙන් මේ ලක්දෙරණටත්, ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ වසංගතය දුරින්ම දුරු වේවා. රෝග පීඩා දුක් බිය තැති ගැනීම් සැකසංකා දුරු වෙලා මනුස්ස වර්ගයාට සැනසිල්ල උදාවේවා කියලා සෙත් පතනවා. පින් කැමැති සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වී මේ සියලු දෙනා රැක ගනිත්වා කියලා පින් පමුණුවනවා. මිය පරලොව ගිය මිසිනෝනා මැණියන්, ඒ වගේම ගුණසේකර පියාණන්, ලොකුමැණිකේ මැණියන්, මුදියන්සේ පියාණන්, ඒ වගේම ලෝකිත්‍ර පියාණන්, ඒ වගේම විල්ෆ්‍රඩ් රුද්‍රිගු පියාණන්, ඒ

වගේම එම්.එම්. අබේරත්න පියාණන් සහ එස්.ඒ. ටිකිරි බණ්ඩා පියාණන්ට මේ පින් අනුමෝදන් වේවා. මියපරලොව ගිය සියලු ඥාතීන් පරලොව සැපයට පත්වේවා කියලා පින් පමුණුවමු. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා. නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම සඟරුවනට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ධර්මයම අවබෝධ වේවා. ඒ වගේම සුජීවත්ව සිටින ලැයිසා කිරිඅම්මාටත්, කේ.ඒ.පී. පෙරේරා කිරිඅම්මාටත්, නන්දා ජයන්ති මෑණියන්ටත්, එම්.එම්. රන්මැණිකා මෑණියන්ටත් නිදුක් නිරෝගී සුවපත්භාවය, ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම මෙවර ශිෂ්‍යත්වයට පෙනී සිටින යුහස්නා මනුල්මි දියණියට විභාගයට සාර්ථකව මුහුණ දීමටත්, ඒ වගේම සශිකලා සෙව්වන්දි දියණියට අපොස සාමාන්‍ය පෙළ විභාගයට සාර්ථකව මුහුණ දෙන්නටත් මේ පින් බලයෙන් ආශිර්වාද සැලසේවා. චින්තක, ප්‍රතිභා, චමීර, තත්සරණී, පබසරා ඒ දියණිවරුන්ට සහ පුතාලට ඒ වගේම ලක්ෂිකා සහ දිල්හානි යන අයගේ දෙමව්පියන්ටත් සහෝදර සහෝරියන්ටත් ඒ සියලුම දරුවන්ටත් මේ පින් අනුමෝදන් වී සියලු යහපත සැලසේවා. ඒ වගේම අද දායකත්වය දරන කොරියාවේ රැකියාවේ නියුතු එම්.ඒ. චතුරංග වෙනමාරච්චි මහත්මයා, කෑගල්ල ප්‍රදේශයේ පදිංචි ඉනෝකා දිල්හානි මහත්මිය, සේරුවිල ප්‍රදේශයේ පදිංචි දයා රංජනී මෑණියන් සහ සුනිල් ශාන්ත පියාණන්, අලව්ව ප්‍රදේශයේ පදිංචි යසෝමා මධුවන්ති මහත්මිය සහ රෝහණ ලලිත් මහත්මයා යන පින්වතුන් සියලු දෙනාට මේ උතුම් ධර්ම දේශනාවේ ආනුභාවයෙන්, තුණුරුවන්ගේ ආනුභාව බලයෙන් ඒකාන්තයෙන්ම සියලු යහපත රැකවරණය සැලසේවා. ඔබ කාටත් මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් මේ පින් අනුමෝදන් වෙත්වා. ශ්‍රද්ධා රූපවාහිනියේ ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයට දායකත්ව සපයන සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් භාග්‍යවතුන් වහන්සේ අනන්ත ලෝකාවබෝධයෙන්, ඒ වගේම තථාගත ගුණය තුළ පිහිටලා, ඒ වගේම යම් රාත්‍රියක සම්බුදු වුනාද යම් රාත්‍රියක පිරිනිවන් පානවාද ඒ අතරතුර දේශනා කරන සියල්ල සත්‍යයි, අන් ආකාරයකින් වෙන්නෙ නෑ, ඒ නිසා අපිට මේ ගෞතම බුද්ධ ශාසනයේ පිහිටක් තියෙනවාමයි. ඒ උතුම් පිළිසරණ පිණිස අසිරිමත් සම්බුදු සරණ සැලසේවා. නිවනින් සැනසෙත්වා කියලා පින් පමුණුවනවා. සෙත් පතනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=BGzuzHnrhPg&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=40

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහනින් තුන් ලෝකයක් සරණ ගිය බුදුරජාණන් වහන්සේගේ බුදු ගුණකඳයි අහන්නෙ. බ්‍රහ්මයෝ බ්‍රහ්මවල බ්‍රහ්මවිමාන පිටින් ඇවිල්ලා බුදුරජාණන් වහන්සේගේ පා වැන්දා, සරණ ගියා. දෙවිවරු දිව්‍යවිමාන පිටින් ඇවිල්ලා බුදුරජාණන් වහන්සේ වැන්දා, සරණ ගියා. නාලොව නාගයින් බුදුරජාණන් වහන්සේ සරණ ගියා. අසුර ලෝකෙ අසුරයන් පවා බුදුරජාණන් වහන්සේ සරණ ගියා. මනුලොව රජවරු, සිටුවරු, මහා බමුණො, බ්‍රාහ්මණයො, ගෘහපතිවරු සියලුදෙනා බුදුරජාණන් වහන්සේ සරණ ගියා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ සරණ යන්න බුදුරජාණන් වහන්සේගේ සරණයේ පිහිටුවාගෙන ඉන්න බුදුරජාණන් වහන්සේගේ සරණ සිහි කර කර ඉන්න පුදුම පිනක් තියෙන්න ඕන. ඒකයි සංසාරයේ පින කියන්නෙ. ඒ නිසා මෙතුවක් කල් ඔබ මේ ධර්මය අහනවා, ඔබට මේ පිනක් විපාක දෙන්නෙ. එතකොට ඒ නිසා අන් අයට ධර්මය අහන්න සළස්වන එක අනිත් පින. ඉතින් ඒ නිසා අද දවසේත් බලන්න මේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරනවා ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් උපේක්ෂා වන්නිආරච්චි මහත්මිය ඇතුලු කළණමිතුරු පිරිස එකතු වෙලා. මියගිය ඥාතීන්ට පින් පිණිසත්, ජීවතුන් අතර

සිටින අයට සෙත් පිණිසත්, ඒ වගේම ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි සැත්කමකට භාජනය වී රෝහල්ගතව ප්‍රතිකාර ලැබූ කෙවින් සාහිත් පුංචි පුතාට නිදුක් නිරෝගී සුව දීර්ඝායුෂ පිණිසත්, මේ ලෝකයට සෙත් පිණිසත් තමයි මේ පින්වතුන් අද ධර්ම දානය බාරගන්නෙ. ඉතින් බොහෝ යහපතක් කරගන්නවා ධර්ම දානයෙන් පින් රැස් කරගෙන, මොකද, කෑමවේලක් දෙනවා වගේ එකක් නෙවෙයි මේ ධර්ම දානය. වස්ත්‍රයක් දෙනවා වගේ එකක් නෙවෙයි ධර්ම දානය. ඉන්නතැනක් දෙනවා වගේ නෙවෙයි ධර්ම දානය. මේකෙන් තමයි සසර දුක් කෙළවර කරන්නෙ. ඒ නිසා ධර්ම දානයම අග්‍රයි. ඒ ගැන හිතලා සන්තෝෂයට පත්වෙන්න. අදත් අසිරිමත් බුදුගුණ, පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ බුදු ගුණ සොයාගෙන ගියාට පස්සෙ කෙළවරක් නොපෙනෙන මැණික් ආකරයකට අතදැම්මා වාගේ. ගන්න ගන්න මැණික් මතුවෙනවා. බුදුරජාණන් වහන්සේ කෙනෙක් පහළ වීමේ ආශ්චර්‍යයී බලන්න. අද අපි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රේෂටත්වයත්, බුදුරජාණන් වහන්සේගේ පංච නේත්‍රයත් බුදු කෙනෙකුට පමණක්ම මේ ලෝකෙ තියෙන පංච නේත්‍රය අද අපි ඉගෙන ගන්නවා. ඉස්සෙල්ලාම භාග්‍යවතුන් වහන්සේගේ පහළ වීම ගැන බලමු. ඒක පුග්ගලෝ භික්ඛවේ ලෝකෙ උප්පජ්ජමානො උප්පජ්ජති බහුජන හිතාය බහුජන සුඛාය ලෝකානුකම්පාය අත්ථාය හිතාය සුඛාය දේවමනුස්සානං, පින්වත් මහණෙනි එකම එක පුද්ගලයෙක් ලෝකයේ පහළ වෙනවා බොහෝ ජනයාට හිතසුව පිණිස, සැපය පිණිස, අනුකම්පාව පිණිස, දෙව් මිනිසුන්ගේ සැපය පිණිස මේ ලෝකයේ එකම එක්කෙනෙක් පහළ වෙනවා. කතමෝ ඒක පුග්ගලෝ? ඒ පුද්ගලයා කවුද? තථාගතෝ අරහං සම්මා සම්බුද්ධෝ, තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ තමයි දෙව් මිනිසුන්ට හිත සුව පිණිස, යහපත පිණිස, ලෝකයේ පහළ වෙන එකම එක උත්තමයා. බුදුරජාණන් වහන්සේ වදාළා ඒක පුග්ගලස්ස භික්ඛවේ පාතුභාවො දුල්ලබෝ ලෝකස්මිං, එකම එක්කෙනෙක් ලෝකයේ පහළ වෙනවා ඒක දුර්ලභයි. ඒ වාගේ කෙනෙක් පහළ වෙනවා කියන එක අතිශයින්ම දුර්ලභයි. කතමෝ ඒක පුග්ගලෝ? කවුද ඒ දුර්ලභම පුද්ගලයා. තථාගතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස. තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. ඉමස්සකෝ භික්ඛවේ ඒකපුග්ගලස්ස පාතුභාව දුල්ලභෝ ලෝකස්මිං. ඒ තථාගතයන් වහන්සේගේ පහල වීම දුර්ලභයි. ඒක පුග්ගලෝ භික්ඛවේ ලෝකෙ උප්පජ්ජමානෝ උප්පජ්ජති අච්චරිය මනුස්සෝ, මේ ලෝකෙ එක්කෙනෙක් පහළ වෙනවා එයා ආශ්චර්‍යයීයි. ඒ උත්තමයා ආශ්චර්‍යයීම කෙනා.

කවුද ඒ? තථාගතෝ අරහං සම්මා සම්බුද්ධෝ. තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. තව තියෙනවා මේ අංගුත්තර නිකායේ ඒක පුග්ගල වග්ගයේ විස්තර තියෙන්නෙ. ඒක පුග්ගලස්ස භික්ඛවේ කාලකිරියා බහුනෝ ජනස්ස අනුත්තප්පාහෝති, බොහෝ ජනයාට එක්කෙනෙක්ගේ කාලකිරියාව බොහෝ දෙනාට තැවීම පිණිස, දුක පිණිස හේතු වෙනවා. එක්කෙනෙක්ගේ කළුරිය කිරීම. ඒ තමයි තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. අපිටම කී ගමනක් හිතිලා තියෙනවාද බුදුරජාණන් වහන්සේ වැඩ හිටියා නම් කියලා. ඒකනෙ දෙවිවරු කෙහෙවළු කඩාගෙන අඬන්නෙ තථාගතයන් වහන්සේගේ පරිනිර්වාණයේදී. බ්‍රහ්මයෝත්, කාමයේ වීතරාගී අයත් විතරයි කියනවා සිහිනුවණින් සිටින්නෙ. සියලු දෙනා කලන්තෙ දාලා වැටෙනවා කියනවා ශාස්තෘන් වහන්සේ පිරිනිවන් පානකොට. ඒක පුග්ගලෝ භික්ඛවේ ලෝකෙ උප්පජ්ජමානෝ උප්පජ්ජති අද්දුතියෝ, අසහායෝ. එක කෙනෙක් මේ ලෝකයේ පහළ වෙනවා අද්විතීයයි, එවැනි දෙවැන්නෙක් නෑ. අසහායෝ, ඒ වාගේ තවත් කෙනෙක් නෑ. අප්පටිමෝ, සමාන කරන්න පුලුවන් එක්කෙනෙක් නෑ. අප්පටිසමෝ, මෙහෙමයි මෙහෙමයි කියලා කියන්න බෑ, උපමා වශයෙන් සමාන කිරීම් කරන්න බෑ. අප්පටිභාගෝ, ඒ බුදුරජාණන් වහන්සේ කෙනෙක් පහළ වෙනවා, ඒ බුදුරජාණන් වහන්සේ අසමසමයි. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා අසමෝ අසමසාමෝ දිප්පදානං අග්ගෝ, දෙපා ඇති අය අතර අග්‍රයි. කතමෝ ඒක පුග්ගලෝ? ඒ එකම පුද්ගලයා කවුද? තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. තවත් කෙනෙකුට සමාන කරන්න බෑ. අතුල්‍යයි. අද්විතීයයි. අප්‍රතිසමයි. බුදුකෙනෙකුටමයි සමාන වෙන්නෙ. අසමයි, අසමසමයි. තවත් බුදු කෙනෙකුට සමාන වෙන්නේ ලෝකෙ කිසි කෙනෙකුට සමාන නෑ බුදුරජාණන් වහන්සේ. ඒක පුග්ගලස්ස භික්ඛවේ පාතුභාවා මහත්තෝ චක්ඛුස්ස පාතුභාවෝ හෝති. එක්කෙනෙක්ගේ ලෝකයේ පහළ වීම වනාහි පින්වත් මහණෙනි මේ ලෝකයේ ඇස පහළ වීමයි. එතකොට එතෙක් ලෝකයේ තියෙන්නෙ අන්ධ බව. බුදු කෙනෙක් පහළ වීමෙන් තමයි ඇස පහළ වෙන්නෙ. ඒකනෙ කියන්නෙ චක්ඛුං උදපාදි, ඤාණං උදපාදි, පඤ්ඤා... ඇස පහළ වුනා. මහතුආලෝකස්ස පාතුභාවෝ හෝති, බුදු කෙනෙක් පහළ වීමෙන් තමයි ආලෝකය පහළ වෙන්නෙ. එතකල් ලෝකෙම තියෙන්නෙ අන්ධකාරේ. මහතෝඕභාසස්ස පාතුභාවෝ හෝති. මහත් වූ ඕභාසයක් ආලෝකයක් රශ්මි ධාරාවක් විහිදිලා යනවා. චන්නං අනුත්තරියානං පාතුභාවෝ හෝති, බුදු කෙනෙක් පහළ වීමෙන් තමයි

දස්සනානුත්තරිය පහළ වෙන්නෙ. බලන දේවල් අතර අග්‍ර දේවල් ඔක්කොම ටික පහළ වෙන්නෙ බුදු කෙනෙක් පහළ වුනොත්. ඇයි බුදුරජාණන් වහන්සේ, රහතන් වහන්සේලා, ධාතූන් වහන්සේලා, ස්තූප, බෝධි. බලන දේවල් අතර අග්‍ර ඔක්කෝම පහළ වෙන්නෙ බුදු කෙනෙක් පහළ වුනොත් නේද? ඊළඟට සවනානුත්තරීය, අහන දේවල් අතර අග්‍ර දේවල් ඔක්කොම පහළ වෙන්නෙ බුදු කෙනෙක් පහළ වුනොත් නේද? ධර්මයනේ අග්‍ර. ඊළඟට පරිචරියානුත්තරිය, සේවාකම් කිරීමේ අග්‍ර, බුදුරජාණන් වහන්සේට, ශ්‍රාවක සංඝරත්නයට, සෑයට, බෝධියට, වෙහෙරට ඒ ඇප උපස්ථාන කිරීම ඒ සේවා කිරීමේ අග්‍ර දේවල් ඔක්කොම පහළ වෙන්නෙ බුදු කෙනෙක් පහළ වුනොත් නේද? සික්ඛානුත්තරිය, හික්මීමෙන් අග්‍ර දේවල් ඔක්කොම ටික පහළ වෙන්නෙ බුදු කෙනෙක් පහළ වුනොත් නේද? අග්‍ර සීලය, අග්‍ර සමාධිය, අග්‍ර ප්‍රඥාව, අග්‍ර ඉන්ද්‍රිය සංවරය, අග්‍ර ජාගරයානුයෝගය, ඒ සියලු හික්මීම්වල, ඒ සියලු හික්මීමේ අනුත්තරීය වූ හික්මීමක් පහළ වෙන්නෙ බුදු කෙනෙක් පහළ වුනොත්. මේ විදියට අනුත්තරීය කාරණා හයක් තියෙනවා දස්සනානුත්තරිය, සවනානුත්තරිය, ඊළඟට පරිචාරියානුත්තරීය, ඊළඟට සික්ඛානුත්තරිය ඔය ආදී වශයෙන්. ඒ සියල්ලම පහළ වෙන්නෙ බුදු කෙනෙක් පහළ වුනොත්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා චතුන්නං පටිසම්භිදානං සච්චිකිරියා හෝති, බුදු කෙනෙක් පහළ වුනොත් තමයි අර්ථ ධම්ම නිරුක්ති පටිභාණ කියන පටිසම්භිදාවන්ගේ සාක්ෂාත් වීම වෙන්නෙ. එතකල් ලෝකෙ නෑ ඒවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා අනේකධාතු පටිවේදෝහෝති නානාධාතුපටිවේදෝහෝති අනේකධාතු නානාධාතු ඇයි ස්කන්ධ ධාතු ආයතන චක්ඛු ධාතු, සෝත ධාතු,  ඝාන ධාතු, ජිව්හා ධාතු, සියල්ල අවබෝධ කරගෙන කාම ධාතු, නෙක්ඛම්ම ධාතු, ව්‍යාපාද ධාතු, අව්‍යාපාද ධාතු, හිංසා ධාතු, අවිහිංසා ධාතු, මේ ඔක්කොම. පඨවි ධාතු, ආපෝ ධාතු, තේජෝ ධාතු, වායෝ ධාතු, ආකාස ධාතු මේ සියලුම ධාතු ස්වභාවය, ධාතූන් හා ධාතූන්ගේ නානා ස්වභාවය, ඒ ඔක්කොම ලෝකයේ පහළ වෙන්නේ වචන ටික පවා බුදු කෙනෙක් පහළ වුනොත්මයි. ඊටපස්සෙ දේශනා කරනවා විජ්ජාවිමුක්තිඵල සච්ඡිකිරියාහෝති, විද්‍යා විමුක්තියේ ඵලය සාක්ෂාත් කරන්න පුලුවන්නේ බුදු කෙනෙක් පහළ වුනොත්. මේ ලෝකෙ යම්තාක් රහතන් වහන්සේලා විද්‍යා විමුක්ති ඵල සාක්ෂාත් කලාද, බුදු කෙනෙක් පහළ වූ නිසා. ඊටපස්සෙ තියෙනවා සෝතාපත්තිඵල සච්ඡිකිරියාහෝති, සෝවාන් අයෙක්ගේ පහළ වීම සිද්ධ වුනේ බුදු කෙනෙක් පහළ වෙච්චි නිසා. මේ ලෝකයේ

යම්තාක් අය සෝවාන් වුනාද, බුදු කෙනෙක් පහළ වුනු නිසා. ඊටපස්සෙ සකදාගාමීඵල සච්ඡිකිරියාහෝති, සකදාගාමී ඵලයේ සාක්ෂාත් කිරීමයි බුදු කෙනෙක් පහළ වුනා කියන්නෙ. මේ ලෝකයේ යම්තාක් දෙනා සකදාගාමී වුනාද බුදු කෙනෙක් පහළ වුනු නිසා. අනාගාමීඵල සච්ඡිකිරියාහෝති, අනාගාමී ඵලය සාක්ෂාත් කිරීමයි. මේ ලෝකයේ යම්තාක් අය අනාගාමී වුනාද ඒ සියලු දෙනාම බුදු කෙනෙක් පහළ වුනු නිසා. ඊටපස්සෙ අරහත්ථඵල සච්ඡිකිරියාහෝති, අර්හත් ඵලය සාක්ෂාත් කිරීමයි, මේ ලෝකයේ යම්තාක් රහතන් වහන්සේලා පහළ වුනාද, ඒ සියල්ල බුදු කෙනෙක් පහළ වූ නිසා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා කතමස්ස ඒක පුග්ගලස්ස? කවුද ඒ එකම එක පුද්ගලයා? තථාගත අරහං සම්මා සම්බුද්ධස්ස, තථාගත අර්හත් සම්මා සම්බුදු රජාණන් වහන්සේයි. තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළ වීමෙන් තමයි මේ සියල්ලම පහළ වෙන්නෙ පින්වත්නි මේ සියල්ලම පහළ වෙන්නෙ. නාහං භික්ඛවේ අඤ්ඤං ඒක පුග්ගලම්පි සමනුපස්සාමි, මං පින්වත් මහණෙනි එකම එක පුද්ගලයෙක්වත් දකින්නෙ නෑ, යො ඒවං තථාගතො අනුත්තරං ධම්මචක්කං පවත්තිතං සම්මදේව අනුපවත්තේති යදිදං භික්ඛවේ සාරිපුත්තෝ, ඒතග්ග පාලියෙ තියෙනවා බුදුරජාණන් වහන්සේ දේශනා කරන ධර්මය ඒ විදියටම ප්‍රවර්තනය කරන කිසිම කෙනෙක් නෑ කියනවා සාරිපුත්තයන් තරම්, ඒ සාරිපුත්ත මහරහතන් වහන්සේ ඒ තරම් ඒ ධර්මය චක්‍රය ප්‍රවර්තනය කරන සෙන්පතියෙක් ලැබූ ධර්මරාජයාණන් වහන්සේ තුන් ලෝකෙම අග්‍රයි. කල්පයක් තිස්සේ වැටෙන වැහිබිඳු ගාන ප්‍රඥාවෙන් දැකිය හැකි සාරිපුත්ත මහරහතන් වහන්සේ ශ්‍රාවකයෙක්. බුදුරජාණන් වහන්සේ ශාස්තෘන් වහන්සේ. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝකයේ බුදුරජාණන් වහන්සේට අන් අය පාවිච්චි කරන දෙවියන් බඹුන් වදින තවත් නම් තියෙනවා. සමණෝති භික්ඛවේ තථාගතස්ස ඒතං අධිවචනං අරහතෝ සම්මා සම්බුද්ධස්ස, ශ්‍රමණ කියලා කියන්නෙ බුදුරජාණන් වහන්සේට. බ්‍රාහ්මණෝති භික්ඛවේ තථාගතස්ස ඒතං අධිවචනං අරහතෝ සම්මා සම්බුද්ධස්ස, මේ තථාගත අධිවචන සූත්‍රයේ තියෙන්නෙ. බ්‍රාහ්මණ කියලා කියන්නේ බුදුරජාණන් වහන්සේට. පව් බැහැර කරපු කෙනා. බෙසක්කෝති භික්ඛවේ තථාගතස්ස ඒතං අධිවචනං අරහතෝ සම්මා සම්බුද්ධස්ස, ශල්‍ය වෛද්‍යවරයා කියලා කියන්නේ බුදුරජාණන් වහන්සේට. කෙලෙස් හුල් ගැලෙව්වානෙ. වේදගෝති භික්ඛවේ තථාගතස්ස ඒතං අධිවචනං අරහතෝ සම්මා සම්බුද්ධස්ස,

වේදගෝ, සියලු ධර්මයන් අවබෝධ කලා. සියලු ධර්මයන්ගෙන් පරතෙරට ගියා කියලා කියන්නේ බුදුරජාණන් වහන්සේට. නිම්මලෝති භික්ඛවේ තථාගතස්ස ඒතං අධිවචනං අරහතෝ සම්මා සම්බුද්ධස්ස, නිර්මල කෙනා කියලා කියන්නෙ බුදුරජාණන් වහන්සේට. කෙලෙස් මල නෑ. විමලෝති භික්ඛවේ තථාගතස්ස ඒතං අධිවචනං, විමල කියලා කියන්නේ බුදුරජාණන් වහන්සේට. ඤාණේති භික්ඛවේ ඒතං තථාගතස්ස අධිවචනං අරහතෝ සම්මා සම්බුද්ධස්ස, ඤාණ, නුවන ඇති කෙනා කියලා කියන්නෙ බුදුරජාණන් වහන්සේට. විමුත්තෝති භික්ඛවේ තථාගතස්ස ඒතං අධිවචනං යදිදං අරහතෝ සම්මා සම්බුද්ධස්ස, ඒ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට තමයි විමුත්තෝ, මනාව නිදහස් වූ කෙනා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඇයි එහෙම කියන්නෙ? ශ්‍රමණයෙක් විසින් ලැබිය යුතු යමක් තියෙනවාද එය බුදුරජාණන් වහන්සේ ලැබුවා. බ්‍රාහ්මණයෙක් විසින් ලැබිය යුතු, පව් බැහැර කරපු කෙනෙකුට යමක් ලැබෙන්න ඕන නම් ඒ නිවන ලැබුනා. ශල්‍ය, කෙලෙස් හුල් ඉවත් කරපු කෙනෙකුට යමක් ලැබිය යුතු නම් ඒ නිවන ලැබුනා. ධර්මයෙන් පරතෙරට පත් කෙනෙකුට ලැබිය යුතු යම් දහමක් තියෙනවාද, නිවනක්, ඒ නිවන ලැබුනා. නිර්මල කෙනෙකුට, විමල කෙනෙකුට, නුවණැති කෙනෙකුට, මනාව නිදහස් වූ කෙනෙකුට යමක් ලැබුනා නම්, ලැබිය යුතු නම් ඒක බුදුරජාණන් වහන්සේට ලැබුනා. දස මරසේනා පරාජයට පත් කරපු තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ මේ සියලු දෙව් මිනිස් ලෝකයෙන් වැඳුම් පිදුම් ලැබනවා. දැන් බලන්න බුදු කෙනෙක්ගේ ආනුභාවය මේ කියන්නෙ. බුදුරජාණන් වහන්සේගේ ආනුභාවය. ඒ නිසා තමයි මාර්ගඵල මේ සියලු ගුණ බුදු කෙනෙක් නිසාමයි හටගන්නෙ. ඒ නිසා තමයි බුද්ධත්වය වෙලාවේ දස මරසේනාවම ඒ සම්මා සම්බුද්ධත්වයට විරුද්ධ වෙන්නෙ. රහතන් වහන්සේ නමක් පහළ වෙනකොට එහෙම යුද්ධයක් නෑ, බුදු කෙනෙක් පහළ වෙනකොට යුද්ධයක් තියෙනවා. සමහර විට රහතන් වහන්සේ එතනින්ම ඒ රහතන් වහන්සේගේ ජීවිතේ පිරිනිවන් පාන්න පුලුවන්. බුදු කෙනෙක්ගේ බුද්ධ කෘත්‍යය සිද්ධ වෙනවා. ඒ බුද්ධාන්තරයේම, සමහර විට කල්පයකට එකක් නම් ඒ කල්පයේම පිනැත්තෝ සසරෙන් නිදහස් වෙනවා. ඉතින් මං අද මේ පින්වතුන්ට මතක් කලා අද අපි මේ පින්වතුන්ට දේශනා කරන්නේ, පංචනේත්‍ර. බුදුරජාණන් වහන්සේට පංචනේත්‍ර තියෙනවා. මොනවද ඒ පංචනේත්‍ර. බුදුරජාණන් වහන්සේට නෙත් පහක්. මසැස, දිවැස, ඊළඟට පඤ්ඤැස - ප්‍රඥා ඇස, බුදු ඇස, ඊළඟට සමථ ඇස - සමන්ත චක්ඛු. මේ ඇස් පහ බුදුරජාණන්

වහන්සේට තියෙනවා. තුන් ලෝකයේ තවත් ශාස්තෘන් වහන්සේ නමකට නම් නෑ බුදුරජාණන් වහන්සේටමයි තියෙන්නෙ. කුමක්ද මේ මසැස? බුදුරජාණන් වහන්සේගේ මසැස පින්වතුනි මේ පේන්න තියෙන නේත්‍රය මහා පුරුෂ ලක්ෂණයක්. නිල්වන් නෙත් සඟල. ගෝපකුමෝ් අභිනීල සුනෙත්තෝ, එදා ඉපදුනු වහුපැටියෙක්ගේ තරම් විශාලයි. ඒ වගේම නිල්ම නිල් පාටයි. ලස්සනයි. දුක් දුරුවෙන නෙත් සඟල. මේ නෙත් සඟල දිහා කාටවත් එක දිගට බලාගෙන ඉන්න බෑ. ඒ නෙත් සඟල පින්වතුනි සංසාරේ අහසේ තරු පරයා ඇස් දන්දීලා ඒ පිනට ලැබිච්ච නෙත් දෙක. අහසේ තරු පරයා ඇස් දන් දීලා ඒ ඔක්කෝගෙම පිනට ලැබිච්ච නෙත් දෙක කොහොම වෙන්නැතිද කියලා හිතන්නකො. අර සිවි රජ්ජුරුවො ඇහැ ගලවලා දන් දෙන්නෙ. ඒ සිද්ධිය සිහි කරන්නකො. ඒ වගේ අසංඛෙය්‍ය හතරකුත් කල්ප ලක්ෂයක් දන් දිදී ආපු නේත්‍ර ගලවා ගලවා. සසර පුරාවට තරහින් බලලා නෑ, රවලා බලලා නෑ, වපර ඇහින් බලලා නෑ, ඒ ඒ පිනට ලැබිච්ච නෙත් සඟල කොහොමද කියලා හිතන්නකො. ඒ නෙත් සඟලෙන් පාට පහක් විහිදෙනවා. පාට පහක් විහිදෙනවා. කොහොමද ඒ පාට පහ විහිදෙන්නෙ? බුදුරජාණන් වහන්සේගේ නෙත් සඟලෙන් නිල් පාට විහිදෙනවා. කහපාට, රතුපාට, කළු පාට, සුදු පාට. එතකොට ඒ විහිදෙන විදිය තියෙනවා පින්වතුනි. නිල්පාට විහිදෙනවා ඒ තද නිල් පාටක්. උන්වහන්සේගේ ඇස් පිහාටු වලින් - ඒ නිල් පාට විහිදෙන්නේ මේ ඇස් පිහාටු වලින්, ඇස් ලෝම වලින්. දියබෙරලියා මලේ පාටයි. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ මේ නිල්පාට විහිදෙන විදිය. ඒ නෙත් සඟලින්ම කහපාට විහිදෙනවා. ඒ කහපාට විහිදෙන්නේ බුදුරජාණන් වහන්සේගේ ඇහිපිල්ලම ළඟින්. කිණිහිරියා මලේ රන්පැහැයට ඒ කහපාට විහිදෙන්නෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ නෙත් සඟලෙන් රතුපාටක් විහිදෙනවා. ඒ රතුපාට විහිදෙන්නේ බුදුරජාණන් වහන්සේගේ නේත්‍රයේ දෙපැත්තෙන්, මේ පැති දෙපැත්තෙන් රතුපාට විහිදෙන්නෙ. ඒ රතුපාට ඇහිකොන ළඟින් විහිදෙනවා, ඒ වගේම ඇහි පිල්ලම්වල කෙළවරිනුත් විහිදෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ නෙත් සඟලින් කළු පැහැයක් විහිදෙනවා. ඒ කළු පැහැය විහිදෙන්නේ කළු ඉංගිරියාවෙන්, නෙත් සඟලේ මැද. රතුපෙනෙල ඇටයේ පේන කළු පැහැයෙන් යුක්තයි. තද නිලට හුරුයි. ඒ බුදුරජාණන් වහන්සේගේ තද නිලට හුරු නිසා තමයි පේන්නෙ නිල් පාටට. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ නෙත් වලින් සුදු රැස් විහිදෙනවා. ඒක විහිදෙන්නේ සුදු ඉංගිරියාවෙන්. ඒ සුදුම සුදුපාට ඕෂධී තාරකාවක් වගේ. ඊළඟට භාග්‍යවතුන් වහන්සේගේ නෙත් සඟලේ ඒ පාට

පහෙන් විහිදෙනකොට බලාගෙන ඉන්න හිතෙනවා. ඒ තමයි බුදුරජාණන් වහන්සේගේ මසැස කාටවත් දුකක් වෙන් නෑ ඒ නෙත් සඟල ඉදිරියේ. මේ ඒ නෙත් සඟලෙන් ලෝකෙ දිහා බැලුවා නම් බොහෝ දෙනාට කරුණාවෙන්, ඒ නෙත් සඟල තෙත් වෙලා තිබ්බෙ කරුණාවෙන්. බුදුරජාණන් වහන්සේගේ නෙත් සඟලේ තියුණු බව කියන්නෙ පින්වතුනි යොදුනක්, යොදුනක් දුර බලන්න පුලුවන් මේ නෙත් සඟලෙන් නිකම්. ඒ කියන්නෙ ඍද්ධියක් නැතිව, බුදුරජාණන් වහන්සේ උපදවා ගත්තු ධ්‍යානයක්, ඍද්ධියක්, සමාධියක්, ඥාණයක් නැතිව නිකම් නෙත් සඟලින් යොදුනක් දුර බලන්න පුලුවන්, කිලෝමීටර් දහයකින් එහා තියෙන වැලි කැටය පේනවා නිකම්. ඒක පේන්නෙ මෙහෙම. මහා අඳුරේ වුනත්, චතුරංග සමන්නාගත අඳුර කියලා එකක් තියනෙවා. ඒ කියන්නෙ අමාවක දවසක, සඳ බැහැගෙන ගිය රාත්‍රියක, ඊළඟට අහස තනීකර කළු වලාවෙන් වැහිච්ච වෙලාවක, ඊළඟට ගස් කොළන් වලින් වැහිච්ච මහා වනාන්තරයක, ගස් කොළන් වලින් වැහිච්ච වනාන්තරයේ ඉර පායලා තියෙනකොටත් අඳුරුයි. ඒක මදිවට ඒ අහසත් කළු වළාවලින් වැහිලා. අමාවක දවසක්, සඳත් බැසගෙන ගිහිල්ලා. එතකොට ඒ වාගේ චතුරංග සමන්නාගත අඳුරේ පවා, යොදුනක් දුරින් තියෙන වැලි කැටේ පේනවා කියනවා බුදුරජාණන් වහන්සේගේ නෙතට. ඍද්ධියක් නැතිව නිකම් මසැසට. ඒ කාලයේ තවත් උපමාවක් ගත්තොත් විශාල තල පුරවපු කරත්තයක්. ඒ තල පුරවපු කරත්තයට, චූටි තල ඇටයක පොඩි මාර්ක් එකක් දාලා, සටහනක් දාලා අර විශාල තල පුරවපු කරත්තයට ඒක මෙහෙම දැම්ම ගමන්, සිදුහත් කුමාරයාට පුලුවන් කියනවා ඒ කාලයේ ඒ ඇටේම ගන්න. එච්චර තියුණුයි නෙත. මේ මසැස. ඉතින් පින්වතුනි එයම ආනුභාවයක්නෙ. මේ පෙනෙන නෙත් සඟල. ඒ නෙත් සඟල ඉදිරියේ කාටවත් දුකක් වෙන් නෑ. දේවදත්තත් ඒ නෙත් සඟලට එන්න කලින් පොළොව පළාගෙන ගියා. ඒකයි චිංචිමානවිකාව ඒ වෙලාවෙ පොළොව පලාගෙන ගියෙ නැතිව දෙව්රම් වෙහෙරෙන් එළියට ගියාට පස්සෙ ගියෙ. බුදු නෙත ඉදිරියේ කරදර වෙන් නෑ. පිස්සු හැදිලා එන අයට බුදු නෙත යොමු කරපුවාම පිස්සු නැතිවෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ නෙත් සඟලින් බෝ සමිඳුන් දෙස දිනහතක් බලාගෙන සිටියා. නිල්වන් නේත්‍ර කාන්තිය විහිදිලා ගියා. බුද්ධානුභාවයෙන් බෝධීන් වහන්සේ සැනසී ගියා. අදටත් දුක්දුරු වෙනවා බෝධීන් වහන්සේට වැන්දත්. ඉතින් ඒක තමයි පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ මසැස. දිවැස, දිවැස කියන එකේ සීමාවක් නෑ. දිව්‍ය නේත්‍රය. ඕනෑම දුරක, ඕනෑම තැනක තියෙන ඕනෑම ප්‍රමාණයක දෙයක් බුදුරජාණන්

වහන්සේට දකින්න පුලුවන්. ඕනම තැනක. චූලනිකා සහස්සී ලෝකධාතුව, මජ්ඣිමා සහස්සී ලෝකධාතුව, ත්‍රිසහස්සී මහා සහස්සී ලෝක ධාතුව, ඒ කියන්නෙ හිරුගෙන් සඳුගෙන් ආලෝකමත් වෙන චක්‍රාවාට දාහක් තියෙනවා. ඒක තමයි චූලනිකා සහස්සී ලෝක ධාතුව. ඒ වගේ ඒවා දාහක් තියෙනවා, ඒක මජ්ඣිමා සහස්සී ලෝක ධාතුව. ඒ වගේ ඒවා දාහක් තියෙනවා. ඒක තමයි ත්‍රිසහස්සී මහා සහස්සී ලෝක ධාතුව. මේ ළඟ තියෙන එක පේනවා වගේ මජ්ඣිමා සහස්සී ලෝක ධාතුවේ කෙළවරේ තියෙන එකත් බුදුරජාණන් වහන්සේට පේනවා ළඟ තියෙනවා වගේ. ඒක තමයි දිවැස. ඉතින් බුදුරජාණන් වහන්සේගේ දිවැසින් ඒ පමණක් නෙවෙයි, බුදුරජාණන් වහන්සේට පේනවා මේ සත්ත්වයා චුතවෙනවා උපදිනවා පේනවා. චුතිඋපත පේනවා. මේ දිවැසටම තමයි චුතූපපාත ඥාණය කියලා කියන්නෙ. බුදුරජාණන් වහන්සේට පේනවා මේ සත්ත්වයා ලස්සන ලෝක වල, කැත ලෝක වලා, හීන ලෝක වල, ප්‍රණීත ලෝක වල කර්මානුරූපව ඉපදෙනවා පේනවා. ඉමේ වත භොංතෝ සත්ථා කාය දුච්චරිතේන සමන්නාගතා, වචී දුච්චරිතේන සමන්නාගතා, මනෝ දුච්චරිතේන සමන්නාගතා. කාය දුශ්චරිතයෙන්, වචී දුශ්චරිතයෙන්, මනෝ දුශ්චරිතයෙන් සමන්විත වෙලා, කලයාණං උපවාදකා, ආර්යයන් වහන්සේලාට ගරහලා. මිච්චා දිට්ඨිකා, මිත්‍යා දෘෂ්ටික වෙලා, මිච්චා දිට්ඨි කම්ම සමාදානා, මිත්‍යා දෘෂ්ටික කර්ම සමාදන් වෙලා. කායස්ස භේදං පරම්මරණං දුගතිං අපායං විනිපාතං නිරයං උපපන්නා, ඒ අපාය නම් වූ විනිපාත වූ නිරයේ උපදිනවා මැරිලා ගිහිල්ලා. බලන්න දුශ්චරිතය නිසා සිද්ධ වෙන දේවල්. බුදු ඇස, බුදුරජාණන් වහන්සේගේ දිවැසට පේනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ දිවැසට පේනවා මේ සත්ත්වයා කාය සුචරිතයෙන්, වචී සුචරිතයෙන්, මනෝ සුචරිතයෙන් යුක්ත වෙලා, ආර්යයන් වහන්සේලාට උපවාද කරන් නෑ, වැඩිහිට අයට ගරු කරනවා, ඊළඟට සම්‍යදෘෂ්ටික වෙනවා, සම්‍යදෘෂ්ටික කර්ම සමාදන් වෙනවා. සුගතියේ උපදිනවා පේනවා. එතකොට මේ ආකාරයෙන් භාග්‍යවතුන් වහන්සේ චුතියේ උපත දකිනවාද, මේ බුදුරජාණන් වහන්සේගේ දිවැස. ඉතින් බුදුරජාණන් වහන්සේට අනේක ලෝක දිවැසින් බලන්න පුලුවන්. සක්වල වල් බලන්න පුලුවන්. අනන්ත අපරිමාණ සත්ත්වයන් දෙස බලන්න පුලුවන්. උපදින හැටි, චුතවෙන හැටි බලන්න පුලුවන්. මේ තමයි බුදුරජාණන් වහන්සේගේ දිවැස. බුදුරජාණන් වහන්සේගේ දිවැසට සමාන කරන්න පුලුවන් කිසි කෙනෙක් නැනෙ. රහතන් වහන්සේලාගේ වුනත් පින්වත්නි, තියෙනවා එක එක සීමාවල්. රහතන් වහන්සේලාගේ තියෙනවා සීමාවල්. ඒකනේ අටුවා කතා වල

තියෙන්නෙ සෘද්ධිය ගැන, මුගලන් මහරහතන් වහන්සේ දවසක්, මුගලන් මහරහතන් වහන්සේගෙ වේගවත් සෘද්ධියක්නෙ. සෘද්ධිමතුන් අතර අග්‍රම කෙනානෙ. වේගවත් සෘද්ධියෙන් මේ සක්වලේ, මුගලන් මහරහතන් වහන්සේ ගියා කියනවා මේ සක්වලේ කෙලවරට දවස් හතක්. වේගවත් සෘද්ධියෙන්. ඒ කියන්නෙ වක් කරපු අතක් දික්කරන වේගයෙන්, දික් කරපු අතක් වක්කරන වේගයෙන් බ්‍රහ්ම ලෝකෙට යන - බ්‍රහ්ම ලෝකෙට දුර විශාල ගල් පර්වතයක් බ්‍රහ්මලෝකෙ ඉඳලා අතෑරියොත් පොළොවට මාස හතරක් යනවා කියනවා, එච්චර දුර යනවා වක් කරපු අතක් දික් කරන වේගෙන්, දික් කරපු අතක් වක් කරන, එතකොට එහෙම වේගෙන් දවස් හතක් යනවා කියන්නෙ. බුදුරජාණන් වහන්සේ දිව්‍යැසින් බැලුවා කියනවා මොග්ගල්ලාන කොහෙද, දවස් හතක් සක්වලේ කෙළවරට යනවා. බුදුරජාණන් වහන්සේ ඒ මොහොතේම මොග්ගල්ලාන මහරහතන් වහන්සේ සෘද්ධියෙන් අරන් දෙව්රම් වෙහෙරේ තිබ්බා. එතකොට මොග්ගල්ලාන මහරහතන් වහන්සේ දවස් හතක් ගිය ගමන, බුදුරජාණන් වහන්සේ එක මොහොතින් ගිහිල්ලා තියෙනවා. සක්වලේ කෙළවරට යන අය අතරමං වෙනවා. ඉතින් ඔය අටුවා කතා වල තියෙන එකක්. එතකොට ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ සෘද්ධිය අසාමාන්‍යයි, දිව්‍යැස අසාමාන්‍යයි. බුදුරජාණන් වහන්සේට වැන්දත් ඇති පින්වතුනි, ඒ අසාමාන්‍ය උත්තමයන් වහන්සේට. ඊටපස්සේ ඔය තමයි බුදුරජාණන් වහන්සේගේ දිව්‍යැස. මසැස, දිව්‍යැස. ඊළඟට බුදුරජාණන් වහන්සේට තියෙනවා පඤ්ඤැස. පඤ්ඤැස කියන්නෙ ප්‍රඥා ඇස, නුවණැස. බුදුරජාණන් වහන්සේගේ නුවණැස ගැන නම් ආයෙ වචන වලින් කෙසේ කියන්නද, බුදුරජාණන් වහන්සේගේ නුවණැස ගැන කොහොම කතා කරන්නද, මේ සකල සත්ත්වයා බුදුරජාණන් වහන්සේගේ නුවණ ගැන කතා කළොත් ඒක හරියට මහා ගුරුළු රාජයෙක් අහස වැහුවම, මුළු අහසම වැහුවා වෙනවාද. ගුරුළු රාජයාගේ පියාපතට මුලු අහසම වැහෙනවාද. අපි ඔක්කෝම එක එක්කෙනාගේ මුව තුලින්. එක එක්කෙනාගේ මුවින් බුදුරජාණන් වහන්සේගේ නුවණ ගැන කියන්න ගියොත්, ගුරුළාගේ පියාපත වගේ. ඒ වගේ බුදුරජාණන් වහන්සේගේ බුදු නුවණ, ඒ බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥාව ගැන වචනයෙන් කියන්න බෑ, ඒකට උපමාවක් තියෙනවා. ප්‍රඥා නේත්‍රයට, ප්‍රඥාවෙන් දකින එකට. ඒක මේ වගේ. ඔන්න භාජනයක් තියෙනවා. ඒ භාජනයටම පෑහිලා යන පියනක් තියෙනවා. එතකොට ඒ පියන පිට පැනලත් නෑ, ඇතුලට ඇවිල්ලත් නෑ. එතකොට පියනෙ ගානට භාජනය තියෙනවා, භාජනයේ ගානට පියන තියෙනවා. එතකොට ඔන්න ඕක තමයි

බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥාවට උපමාවක් කිව්වොත්. මොකක්ද ඒ උපමාව? බුදුරජාණන් වහන්සේ අවබෝධ කරන්න තියෙන දේ, මේ ලෝකෙ දැනගන්න, දැකගන්න, අවබෝධ කරන්න තියෙන දේ මේ භාජනය වගේ. බුදුරජාණන් වහන්සේගේ නුවණැස පියන වගේ. ඇයි ඒ? යම්තාක් අවබෝධ කරන්න තියෙනවාද, ඒ තාක් තමයි බුදුරජාණන් වහන්සේගේ බුදු නුවණ. බුදුරජාණන් වහන්සේගේ නුවණට අහු නොවිච්ච, අවබෝධයට අහුනොවිච්ච කිසිවක් නෑ, යට භාජනයේ පියන වහලා. ඒ වගේ කියනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඉතා භාග්‍යවතුන් වහන්සේගේ ප්‍රඥාව ප්‍රභාෂ්වරයි. මහා ප්‍රභාෂ්වරයි. මහා පඤ්ඤො. ගම්භීරයි. තුතුපන්නෝ. තියුණුයි. තික්කපඤ්ඤෝ, ඒ වගේම බුදුරජාණන් වහන්සේගේ නුවණ ජවසම්පන්නනයි, ජවනපඤ්ඤෝ. ඒ වගේම බලසම්පන්නයි, තික්කපඤ්ඤො, ඒ වගේම විශාරදයි. ශක්ති සම්පන්නයි. ආශ්චර්‍යයි, අද්භූතයි. බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥාව මහා ප්‍රඥාවක්. පෘතු ප්‍රඥාවක්. හාස ප්‍රඥාවක්, ජවන ප්‍රඥාවක්. තික්ක ප්‍රඥාවක්. නිබ්බෙතික ප්‍රඥාවක්. සියලු දේවල් කෙරෙහි නොඇලුන අවබෝධයෙන් කළකිරුණු ස්වභාවයෙන් යුතු ප්‍රඥාවක් තියෙනවා. තියුණු වේගවත් ඉක්මණින් හටගන්න ප්‍රඥාවක් තියෙනවා. ඉතින් මේ විදියට මහා ප්‍රඥාවකින් අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ ප්‍රඥා ඇසින් යුක්තයි. භාග්‍යවතුන් වහන්සේ ඒ ප්‍රඥා ඇසින් තමයි සකල බුද්ධ කෘත්‍යය දරාගෙන මේ ලෝකයා දෙස බැලුවෙ, ප්‍රඥා ඇස. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥා ඇසට සංකත, අසංකත, සංකත කියන්නෙ හේතුඵල දහමින් හටගත්ත මේ සියල්ල. අසංකත කියන්නේ නිවන. ඒ ඔක්කෝම පේනවා ප්‍රඥා ඇසට. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥාව තියුණුයි කියනවා, පින්වතුනි මේ ලෝකෙ ඉන්න දක්ෂම දුනුවායා තමයි, දක්ෂම දුනුවායා තමයි. ඒ දුනුවායාට කියනවා විදුලි කොටන වේගෙන්, කියන්නේ අන්ධකාරෙ ඉන්නවා ඈත අස්ලෝමයකින් යමක් එල්ලලා තියෙනවා. ඈත. ඊටපස්සෙ මෑත ඉන්නවා දුනුවායා. මහා අන්ධකාරයේ වර්ෂාව එන වෙලාවෙ. එතකොට මේ දුනුවායා දුන්න අමෝරාගෙන විදුලි කොටනවානෙ, විදුලි කොටන එළියෙන් අර අස්ලෝමයට විදිනවා ඈත තියෙන, වෙන එළියක් නෑ, ඒ එළිය එන ඩිංගිත්තට. ඊට වැඩිය තියුණුයි කියනවා, ඊටවැඩිය සිය දහස් ගුණයක් තියුණුයි බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥා ඇස. ප්‍රඥාව. ඊටපස්සෙ මහා සාගරයට ඇතුලට කිඳාගෙන බැස්සොත් ඒකෙ අගක් හොයන්න පුලුවන්, පතුලක්. බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥාවේ ගාම්භීර බව හොයන්න බෑ. ලෝකෙ පුරා විසිරී පැතිරී තියෙන අනන්ත අවකාශය බුදුරජාණන් වහන්සේගේ

ප්‍රඥාවෙන් අවබෝධ කලා. බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥාව පැතිරිලා තියෙනවා අවකාශයට වඩා. සියලු පාෂාණයන් සුණුවිසුණු කරන වජ්‍රමය දියමන්ති ආයුධයක් තියෙනවා නම් ඊට වැඩිය වජ්‍රමය - දැඩි ප්‍රඥාවක් බුදුරජාණන් වහන්සේට තිබ්බා, ශක්ති සම්පන්නයි. ඔය විදියට තමයි බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥා ඇස, වචන කීපයකින් අපි තේරුම් ගන්නවා නම් වචන කිහිපයකින් කතා කරන්න තියෙන්නෙ. හේතුව ඒ බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥා ඇස ඇතුලත තමයි මේ දේශනා කරපු සියලු ධර්මයන් තියෙන්නෙ. ඊළඟට පින්වතුනි බුදුරජාණන් වහන්සේට, දැන් බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥාව ගැන මහාසිංහනාද සූත්‍රයේ තියෙනවා, පින්වත් සාරිපුත්ත මේ ලෝකෙ කතාවක් තියෙනවා වයසට ගියාට පස්සෙ කට්ටියගේ කල්පනාව අඩුවෙනවා කියලා. සාරිපුත්ත තථාගතයන් වහන්සේට දැන් වයස අවුරුදු අසූවයි. බුදුරජාණන් වහන්සේ දේශනා කලා, තියුණු ප්‍රඥාව තියෙන, තියුණු ප්‍රඥාව තියෙන, මොහොතකින් කල්ප ලක්ෂ ගණන් පෙරජීවිත සිහි කරන, තියුණු ප්‍රඥාව තියෙන ශාසනයේ තියුණුම ශ්‍රාවකයෝ හතර දෙනා ඇඳේ හතරපැත්තෙ ඉඳලා බුදුරජාණන් වහන්සේගෙන් ප්‍රශ්නයක් අහනවා, ඒකකෙනෙක් අහපු ගමන් අනිත් එක්කෙනා, එක්කෙනෙක් අහපු ගමන් අනිත් එක්කෙනා. එක දිගට අහනවා. ඒ අයගේ ආයුෂ ඉවරවෙනකල් ප්‍රශ්න අහයි. බුදුරජාණන් වහන්සේ වෙහෙසක් නැතිව උත්තර දෙනවා. උත්තරදීම ඉවර වෙන් නෑ. එච්චර තියුණු ප්‍රඥාවක් ශාස්තෘන් වහන්සේට. අපිට තියෙන්නෙ සරණ යන්න. ප්‍රඥාව තියෙන උත්තමයෙක් සරණ යන්න. ඒකමනෙ ප්‍රඥාව. ප්‍රඥාව තියෙන උත්තමයෙක් සරණ යන එක නේද ඔබගේ ප්‍රඥාව. ඒ තුළින් තමයි ඔබට ප්‍රඥාව උපදින්නෙ. ඒ තුලින් ප්‍රඥාව උපදින්නෙ. ඉතින් ඒ නිසා ඒ අපේ බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥා ඇස. දැන් අපි ඇසවල් කීයක් ඉගෙන ගත්තාද? බුදුරජාණන් වහන්සේගේ මසැස, දිවැස, ප්‍රඥා ඇස. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ බුදුඇස. බුදු ඇස ගැන, බුදුඇස පියවූ දා පටන් අපිට තිබුනේ ධර්මය විතරයි කියලා. ඔය කතාවෙන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ බුදුඇස. බුදුඇස, බුද්ධ නේත්‍රය මේ වගේ. ශාස්තෘන් වහන්සේගේ මහා කරුණාවෙන් යුතු බුද්ධ නේත්‍රයෙන් ලෝක සත්ත්වයා දිහා බලනවා. එතකොට කල්ප කෝටි ගාණකට කලින් වුනත් ඒ සත්ත්වයන් යම් පිනක් කොට තිබුනොත් භාග්‍යවතුන් වහන්සේට ඒ පින පේනවා, මොකෙන්ද? බුද්ධ නේත්‍රයෙන්. ඒ වගේම ඒ සත්ත්වයන් චතුරාර්ය සත්‍යය දකින්න පින් කරලා තිබුනත් ඔවුන් සසරේ සැරිසරා යාමේදී ඇතිවූ නොයෙක් පුරුදු නිසා නොයෙක්

ගතිලක්ෂණ, චරිත පිහිටලා තියෙනවා. ඒවා බුදුරජාණන් වහන්සේ දකිනවා. ඒ කියන්නෙ රහත් වෙන්න පින තියෙනවා. නමුත් සසරේ ගති ලක්ෂණ. ඔන්න එක භික්ෂුවකට ඕනතරම් කන්න පුලුවන්. ඒ භික්ෂූන් වහන්සේ මොකද කරන්නෙ, වෙහෙරේ ඉන්න භික්ෂූන් දානෙ ගන්නකල් ඉඳලා ඉතුරු ටික ඔක්කෝම ටික වළඳනවා. ඊටපස්සෙ ඇයි කියලා පස්සෙ භාග්‍යවතුන් වහන්සේට කියා හිටියා, භාග්‍යවතුන් වහන්සේ වදාළා ඔය භික්ෂුව රහතන් වහන්සේ නමක්. නමුත් බොහෝ කාලයක් සසරේ ඇතෙක් වෙලා ඉපදිලා තියෙනවා කිව්වා. ඒ නිසා ගොඩාක් ආහාර ඕන. තව භික්ෂූන් වහන්සේ නමක් හිටියා, හවසට වමාරනවා. ඔක්කාරෙ වගේ වැමෑරෙනවා, ආයෙ වළඳනවා. සංඝයා කිව්වා ඒක හොඳ නෑ කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා ඔය භික්ෂුව සසරේ ගොඩාක් කාලයක් ගවයෝනියේ ඉපදිලා තියෙනවා. තව එක භික්ෂූන් වහන්සේ නමක් යනකොට පොඩ්ඩක් පැනලා යනවා. සසරේ වඳුරෙක් වෙලා ඉඳලා තියෙනවා. සසර පුරුදු එනවා. අපේ පිලින්දවච්ඡ මහරහතන් වහන්සේ කාටහරි කතා කරනකොට මෙහෙ එන්න, ආවෙ නැත්නම් මෙහෙ වර වසලයා කියනවා. එතකොට අර කට්ටියම මොකක්දෝ වෙනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා පිලින්දවච්ඡ බොහෝ කාලයක් සසරේ ජීවිත පන්සීයක් එක දිගට බ්‍රාහ්මණ මහාසාර කුලයේ ඉපදිලා. ඒ බ්‍රාහ්මණ, ඒ බලන්න ඒවා එනවා. ඒවා බුදුරජාණන් වහන්සේට පේනවා තත්පරේට. ලකුණ්ඨබද්දිය මහරහතන් වහන්සේගේ සසර ගමන. ඔක්කොම තත්පරේට පේනවානෙ, බුදු ඇසට. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේගේ බුදු නෙතට ඒවා හොඳට පේනවා. සත්ත්වයන් තුළ ඇති ගුණධර්මයන්ගේ අඩුවැඩිකම් පේනවා. අතීත බුද්ධ ශාසනවලදි පැවිදි වෙලා නිවන් පතාගෙන කල කැපවීම, ඔවුන් තුළ ධර්මාවබෝධයට පිහිටා ඇති වාසනාව, බුදුරජාණන් වහන්සේගේ බුද්ධ නේත්‍රයට පේනවා. රාත්‍රී කාලෙක වුනත් ඈත කන්දක් මුදුනේ ඇති කුටියක පහනක් දැල්වී තිබුනොත් අපිට ඒක පේනවානෙ. අාන්න ඒ වගේ. බුදුරජාණන් වහන්සේට අන්ධකාරයේ දිලෙන පහනක් වගේ කොයිතරම් මනුස්සයාගේ වැරදි අඩුපාඩු දෝෂ උස් මිටිකම් කුලවංශ මොනවා තිබ්බත් බුදුරජාණන් වහන්සේට එයාගේ ධර්මාවබෝධ කරන පින පේනවා, බුදු ඇසට. ඉතින් බුදුරජාණන් වහන්සේ බුදු ඇසින් තමයි ඉස්සෙල්ලාම ලෝකය දිහා බැලුවෙ. බුද්ධ චක්ඛුනා ලෝකං ඕලොකෙත්වා. බුදු ඇසින් ලෝකය දිහා බැලුවා. බලනකොට බුදුරජාණන් වහන්සේට පෙනුනා මේ ලෝක සත්ත්වයා පොකුණක් වගේ, නෙළුම් මලක් වගේ ඇවිල්ලා වතුරෙ මැද, වතුරෙන් උඩ,

වතුරෙ ගෑවි ගෑවි තියෙනවා. වතුරෙන් උඩට මතුවෙලා, ඊළඟට වතුරෙන් උඩට මතුවෙලා මෝරලා තියෙනවා ඉර පායනකල් පිපෙන්න. ඒ වගේ තමයි ලෝක සත්ත්වයා කුසල් දහම් ඉන්ද්‍රියන් අඩු වැඩි විදියට පිහිටලා ඉන්නවා. බුදුවරු පහළ වෙනකල් ඉන්න සත්ත්වයෝ ඉන්නවා අර්හත්වයට පත්වෙන්න. නෙළුම් විලක් වගේ. ඊළඟට බුදුරජාණන් වහන්සේ මේ ලෝක සත්ත්වයා දුටුවා, හොඳට මේ බුදු ඇස කියන එක බලන්න කියවන්න ලෝකාවලෝකන සූත්‍රය. බුද්ධ චක්ඛුනා, බුදු ඇසින් බුදුරජාණන් වහන්සේ ලෝකය දිහා බලනකොට දැක්කා අනේකේහි සංතාපේහි සංතාප මානා, නොයෙක් පීඩාවන්ගෙන් පීඩා විඳ විඳ. අනේකේහි පරිද්දාහි පරිදහිය මානා, නොයෙක් පීඩාවන්ගෙන් ගින්නන්ගෙන් ගිනි ඇවිල ඇවිල, රාගයෙන් ද්වේෂයෙන් මෝහයෙන් ඇවිල ඇවිල මේ සත්ත්වයෝ ඉන්නෙ. බුදුරජාණන් වහන්සේ බුදු ඇසින් දුටුවා. බුදුරජාණන් වහන්සේ බුදු ඇසින් දුටුවා මේ විදියට ඇවිලී ඇවිලී ගින්නෙන් භවයම පත පතා ඉන්නවා. භවයටම ආස කර කර ඉන්නවා. එතකොට මේ භවයෙන්ම දුක් විඳ විඳ මෙයාලා ඉන්නවා. නමුත් යේන යේනේව මඤ්ඤති තථෝතං හෝති අඤ්ඤතා, යමක්ද හිතන්නේ සිද්ධ වෙන්නෙ වෙන දෙයක් ලෝක සත්ත්වයාට. එයාලා දුක, මේ රාග ද්වේෂ මෝහ වලින් දුක් විඳ විඳ ඒ දුක මගේ කියලා අල්ලගෙන ඉන්නවා. භවය මගේ කියලා අල්ලගෙන ඉන්නවා. අල්ලගෙන හිටියට ඔක්කොම අත්හැරලා යන්න සිද්ධ වෙනවා. හිතන්නෙ මොකක්ද, සිද්ධ වෙන්නෙ මොකක්ද. ඔය අතර කට්ටිය භවය තුළ ඉඳගෙන සසර තුළ ඉඳගෙනම නිවන් දකින්න හදනවා, භවය තුළ තියෙන දේවල්ම අල්ලගෙන. ඒ අයට නිවන හම්බ වෙන් නෑ. සමහර අය විභවයක් හොය හොයා යනවා. මේවා එපා කියලා හිත කය නවත්වන්න හදනවා. එතකොට එයාලාටත් නිවනක් හම්බවෙන්නෙ නෑ, ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝක සත්ත්වයා අවිද්‍යාවෙන් තැලිලා පොඩිවෙලා තෘෂ්ණාවෙන් බැසගෙනම ඉන්නවා බුදු ඇසින් දුටුවා කියලා. හැබැයි බුදුරජාණන් වහන්සේ දේශනා කලා යම්කිසි කෙනෙක් මේ භවයට අයිති දේවල් සියලූම ආකාරයෙන් භවයට අයිති දේවල් අනිත්‍ය වශයෙන්, දුක් වශයෙන්, වෙනස් වන වශයෙන් දැක්කා නම් ඒ අය භවයෙන් නිදහස් වෙනවා. ඒක බුදුරජාණන් වහන්සේ දැක්කෙ බුදු ඇසින්. මෙන්න මේ දේ කරලා ගයාවේ වජිරාසනය මත පළවෙනි රහතන් වහන්සේ බිහිවුනා කිව්වා, සියලු මාර සේනාවෝ පරාජයට පත් කරලා. බුදු ඇසින් දැක්කෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේට, බලන්න භාග්‍යවතුන් වහන්සේගේ බුදු ඇස. මහා කරුණාව. අවබෝධය. සමථ ඇස. සමන්ථ චක්ඛු. බුදුරජාණන් වහන්සේගේ

පස්වෙනි නේත්‍රය, සමන්ථ චක්ඛු. සමථ ඇස. හාත්පස දකිනවා කියනවා. අනාවරණ ඥාණය කියලා කියන්නෙත් සමථ ඇසට. සර්‍වඥතා ඥාණය කියලා කියන්නෙත් සමථ ඇසට. සියල්ල දත් නුවණ කියන්නෙත් බුදුරජාණන් වහන්සේගේ සමථ ඇසට. බුදුරජාණන් වහන්සේගේ සමන්ත චක්ඛුව තමයි මේ ලෝකයේ හාත්පස දකින සර්‍වඥතා ඥාණය. ඉතින් සර්‍වඥයන් වහන්සේ දකිනවා සමන්ථ චක්ඛුවෙන් හේතුඵල කිසිවකින් නොහටගත්, කිසිවකින් නොකරන, අසංකත වූ නිර්වාණ ධාතුවක් තියෙනවා කියලා සමන්ථ චක්ඛුවට පේනවා. යම් හෙයකින් අන්න ඒ අජාත, අසංකත, අකත, ඒ කියන්නෙ නූපන්, කවුරුවත් කරපු නැති, ඊළඟට හේතුඵල දහමින් හටගත්තෙ නැති නිර්වාණ ධාතුවක් කියලා තිබ්බෙ නැත්නම් මේ ලෝක සත්ත්වයාට හේතුඵල දහමින් නිදහස් වෙන්නෙ කොහොමද? බුදුරජාණන් වහන්සේ ඒක දකිනවා. ඉතින් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ නිර්වාණ ධාතුවක් තියෙන නිසාමයි හේතුඵල දහමින් උපන් සත්ත්වයා සකස් වූ සත්ත්වයා සංකත වූ ලෝක සත්ත්වයාට ගැලවීමක් නිදහසක් විමුක්තියක් තියෙන්නේ කියලා සමන්ථ චක්ඛුවෙන් දකිනවා. ඒකනේ කියන්නෙ මහා බ්‍රහ්මයා, ස්වාමීනී ප්‍රඥාවෙන් කරපු ප්‍රාසාදයට භාග්‍යවතුන් වහන්සේ නැගලා සමන්ත චක්ඛුවෙන් ලෝකය දෙස බලන්න. හැම දෙයක්ම පේනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගේ අනාවරණ ඥාණය, මහිමය, බුදුරජාණන් වහන්සේගේ සර්‍වඥතා ඥාණයෙන් මේ ලෝකෙයේ වෙන කවුරු නම් මේ බුදුරජාණන් වහන්සේගේ සමන්ථ චක්ඛුවට සමාන කරන්න පුලුවන් ඇසක් තියෙයිද? බුද්ධ ක්ෂේත්‍රය, විෂයය අචින්ත්‍යයි. අනිර්වචනීයයි, අතුල්‍යයි, අද්විතීයයි, අසාමාන්‍ය දෙයක් බුදුරජාණන් වහන්සේගේ හාත්පස පේන සිත. බුදුරජාණන් වහන්සේට අවබෝධ කළයුතු දුක කියලා යමක් ඇත්ද, සියල්ලම දැක්කා බුදුරජාණන් වහන්සේ. සමන්ත චක්ඛුවෙන්. ප්‍රහාණය කළ යුතු දුක්ඛ සමුදය තියෙනවා නම් සියල්ලම දුටුවා සමන්ත චක්ඛුවෙන්. සාක්ෂාත් කළ යුතු නිවනක් ඇත් ද, ඒ නිවන දුටුවා සමන්ථ චක්ඛුවෙන්. යම්තාක් මාර්ගයකට වැඩපිළිවෙල වේද, ඒ මාර්ගය දුටුවා සමන්ත චක්ඛුවෙන්. බුදුරජාණන් වහන්සේගේ සියලුම ඥාණ දසබල ඥාණ, ඊළඟට ෂඩ්විශාරද ඥාණ, ෂඩ් අසාධාරණ ඥාණ, මහා කම්ම විභංග ඥාණ, ඉන්ද්‍රිය පුරුෂ ඉන්ද්‍රිය ඥාණය, පුරුෂ පුග්ගල පරෝපරියාය ඥාණ, ඊළඟට තථාගත ඥාණ, මේ සියල්ලම මේ පංච නේත්‍රයම ඔක්කොම ගොනුවෙන ඇහැ තමයි සමථ ඇස. සර්‍වඥතා ඥාණය. කිසිම දේක ආවරණයක් නෑ, ඊටපස්සෙ ස්කන්ධ ධාතු ආයතන විදියට මේ ලෝකෙ සියල්ලම දකිනවා බුදුරජාණන් වහන්සේ. ඊළඟට බුදුරජාණන්

වහන්සේට මේ ලෝක සත්ත්වයා අහන ඕනම ප්‍රශ්නෙකට උත්තරයක් දෙන්න පුලුවන්. ඕනම ගැටළුවක් විසඳන්න පුලුවන්. ඒ බුදුරජාණන් වහන්සේ සියල්ල අවබෝධ කරපු නිසා. ඒක තමයි සර්වඥතා ඥාණය කියලා කියන්නෙ. බුදුරජාණන් වහන්සේ ධර්ම ධාතුව අවබෝධ කලා. එයින් ලෝකය බලනවා. එතකොට බුදුරජාණන් වහන්සේට පේනවා ලෝක සත්ත්වයා. ඒක තමයි බුදුරජාණන් වහන්සේගේ සමන්ථ චක්ඛුව. දැන් සිහි කරන්න පින්වතුනි අපි සරණ ගිය අපේම බුදුරජාණන් වහන්සේට පංච නේත්‍රයක් තිබ්බා. ඒ පංච නේත්‍රය කුමක්ද? මසැස, දිවැස, පඤ්ඤැස, බුදු ඇස, සමථ ඇස නැත්නම් සර්වඥතා ඇස - සමන්ත චක්ඛුව. ඒ පසැසින් නෙත් පසකින් වැඩ සිටි අපගේ මුණිදානන් දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්න. පස් නෙතකින් වැඩ සිටියා වූ කරුණාවෙන් වදාළ ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. නෙත් පසකින් වැඩ සිටි මුණිඳුන්ගේ නෙතට ලක්වුන ශ්‍රාවක දරුවන් දිවිහිමියෙන් සරණ යනවා කියලා සරණ යන්න. අපි කාටත් නෙත් පසකින් වැඩ සිටි අසිරිමත් සම්බුදුරජාණන් වහන්සේගේ සරණ ලැබේවා, දුකින් නිදහස් වේවා.

ඉතින් පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඕස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත්, උපේක්ෂා වන්නිආරච්චි මහත්මිය ඇතුළු කලණ මිතුරන් පිරිස. පංච නේත්‍ර ඇති තථාගතයන් වහන්සේගේ අනන්ත අපරිමාණ ගුණ සමුදායේ අනුහසින් ලෝකෙට කලාතුරකින් පහළ වන උතුම්ම පුද්ගල රත්නයේ ආනුභාව බලයෙන්, තුණුරුවන්ගේ ආනුභාව බලයෙන්, මේ පින්වල අනුහසින් මව් රටටත් ලෝකයටත් ව්‍යසනයක් වුනු වසංගතය ලෝකයෙන්ම තුරන් වෙලා මිනිස්සුන්ට නිදුක් නිරෝගී සුව සැලසේවා. බියක් සැකක් කරදරයක් පීඩාවක් නැතිව සැනසිල්ලේ වාසය කරන්න මිනිස්සුන්ට වාසනාව ලැබේවා, ආශිර්වාද ලැබේවා කියලා බුදුරජාණන් වහන්සේගේ ආනුභාවයෙන් අපි ලෝකයට සෙත් පතමු. ඉතින් සියලු දෙවි දේවතාවුන් වහන්සේලා මේ පින් සතුටින් අනුමෝදන් වේවා. සියලු දෙනාව ආරක්ෂා කරත්වා කියලා පින් පමුණුවමු. මියපරලොව ගිය ගීතාංජලී කරුණාසේකර මහත්මිය සහ ලයනල් වීරසිංහ මහත්මයාට මේ පින් අනුමෝදන් වී, මියපරලොව ගිය සියලු ඥාතීන් මේ පින් බලයෙන් පරලොව සැපයට පත්වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම විශේෂයෙන් පින් අනුමෝදන් කරනවා අපගේ පරමපූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට, ඇත්තටම ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි අපි භාග්‍යවතුන් වහන්සේගේ මේ ගුණකඳ දන්නෙ. මං අද දේශනාව

කලේත් ලොකු ස්වාමීන් වහන්සේ නෙත් පසකින් වැඩ සිටි අපේ මුණාදානෝ කියලා ලොකු ස්වාමීන් වහන්සේ ලියපු ලිපියකින් තමයි අද මං දහම් වැඩසටහන කලේ. පරම පූජනීය ගුරු දේවෝත්තම ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලුම ස්වාමීන් වහන්සේලාටත් අනගාරිකා මෑණිවරුන්ට, ඒ වගේම පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් අනුමෝදන් වී ධර්මාවබෝධයම සැලසේවා. මාතලේ නුගහපොල මහත්මියටත්, මාධව වන්නිආරච්චි, නිරෝෂා ද සිල්වා, නයනා, ධම්මි, මාරි යන මහත්ම මහත්මීන්ටත්, මහනුවර මහරෝහලේ වෛද්‍ය ප්‍රියන්ත අබේරත්න, අසංක අබේරත්න සහ චාමිකා මහත්මිය යන අයටත් නිදුක් නිරෝගී සුවපත් භාවය ධර්මාවබෝධය සැලසේවා. ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි සැත්කමකට භාජනය වූ කෙවින් සාහිත් පුංචි පුතාට නිදුක් නිරෝගී සුව සැලසේවා. නෙත් පසකින් වැඩ සිටි මුණිදුන්ගේ ආනුභාවයෙන් මේ දරුවාට සියලු රැකවරණය ආරක්ෂාව දියුණුව දහමේ පිහිට ලැබේවා කියලා සෙත් පතනවා. ඒ වගේම ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් උපේක්ෂා වන්නිආරච්චි මහත්මිය ඇතුළු කළණ මිතුරු සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. අනුමෝදන් වෙලා අද දවසේ මේ නෙත් පසකින් වැඩසිටි මුණිදුන්ගේ අසිරිමත් ගුණ කඳ ලෝක සත්ත්වයාට අහන්න සලස්වපු පින් බලයෙන් ඔබ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා. ඒ භාග්‍යවතුන් වහන්සේගේ නෙත් සඟලින් ලෝකය දෙස බලා වදාළ ධර්මය අවබෝධ කරගන්න ඔබටත් වාසනාව ලැබේවා. අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට ගුරු භවතුන්ට සියලු දෙනාට පින් සිදු වේවා. ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, ඒ වගේම මාධ්‍යය පවත්වාගෙන යන්න උදව් උපකාර කරන සියලු දෙනාට පින්සිදු වේවා. ඔබ සියලු දෙනාට මේ රැස් කරගන්නා වූ අනන්ත අපරිමාණ පුණ්‍ය සම්භාරයේ අනුහසින් සෙත් වේවා. නෙත් පසකින් වැඩ සිටි අපගේ බුදුරජාණන් වහන්සේ ලෝක සත්ත්වයාට හිත සුව පිණිස වදාළ ධර්මය අවබෝධ කරගන්න උතුම් සම්බුදු සරණ ලබමින් ගෞතම සසුනේ පිහිට ලබත්වා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=7bgdesG4PAQ&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=41

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේත් අපි, අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් බුදු ගුණ කඳම්භයක් ඉගෙන ගන්නවා. අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන අද ශ්‍රද්ධා රූපවාහිනියෙනුත්, ලක්විරු ගුවන් විදුලියෙනුත් විකාශනය කරවන්න දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් අරුණ උක්වත්ත මහත්මයා සහ ෂෙහාරා පෙරේරා මහත්මිය විසින්. මේ පින්වතුන් බලාපොරොත්තු වෙනවා සියලු දෙනාට සෙත් ප්‍රාර්ථනා කරන්නටත්, ඒ වගේම සිප්සතර ලබාදුන් ගුරුවරුන්ට නිදුක් නිරෝගී සුව සැලසීම පිණිසත්, ලෝකයට ආශිර්වාද කිරීම පිණිසත්. පින්වතුනි අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ තුන් ලෝකෙටම අග්‍ර ශාස්තෘන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ නිසා මේ මිහිමඩල බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ දරාගන්න නොහැකි අවස්ථාවන් වලදී මේ මිහිමඩල කම්පා වුනා බොහෝ වාරයක්. බෝධිසත්ත්ව කාලයේම කලින් සංසාරයේ, වෙස්සන්තර ජීවිතයේම අට වතාවක් මහපොළොව කම්පා වුනා. එතකොට භාග්‍යවතුන් වහන්සේ පිරූ පාරමී ධර්මයන් මේ මිහිමඩල දන්නවා. මව්කුසේ පිළිසිඳ ගන්නා මොහොතේත්. මව්කුසින් බිහිවෙන මොහොතේත් මිහිමඩල කම්පා වුනා. ඊළඟට සම්මා සම්බුදු වන මොහොතේ මිහිමඩල කම්පා වුනා. ප්‍රථම ධර්මය දේශනා කරනකොට, හාහාපුරා කියා ලෝකයට චතුරාර්ය සත්‍යය ධර්මය ඇහෙද්දි මිහිමඩල කම්පා වුනා. දසදහසක් ලෝක ධාතු කම්පා වී ගියා.

සෙලවිලා ගියා. ඒ වගේම ආයුසංස්කාරය අත්හරිනකොට මිහිමඩල සලිත වෙලා යනවා. ලෝක ධාතුව සලිත වෙලා යනවා. පිරිනිවන් පානකොට ලෝකධාතුව සලිත වෙලා යනවා. පිරිනිවන් පෑවගෙන් පස්සෙත් සිදුවුන යම් යම් අවස්ථාවලදී මිහිමඩලට ඒවා දැනිලා තියෙනවා. අද අපි කියන්න හදන්නේ බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරන සමහර අවස්ථාවලදිත් මිහිමඩල සලිත වුනා. ඒ වගේ අවස්ථා කීපයක් තියෙනවා. දැන් අද ඔබට කියලා දෙනවා එකම සූත්‍ර දේශනාව, එක දහම් දේශනාව ඇතුලත පොළොව පස්වතාවක් කම්පා වුනා. එකම දේශනාවෙන් පොළොව පස් වතාවක් කම්පා වෙච්ච සූත්‍ර දේශනාව කුමක්ද? කාලකාරාම සූත්‍රය. මිනිස්සු ඒක නෙවෙයි දන්නෙ. මිනිස්සු දන්නේ කළුදිය පොකුණෙ, කළු තිඹිරි ගහක් යට, කළු ගල් ආසනයක, කළුබුද්ධරක්ඛිත මහරහතන් වහන්සේ, කළුවර දවසක, කාලකාරාම සූත්‍රය දේශනා කොට වදාළා කියලා. ඒ කළුබුද්ධරක්ඛිත මහරහතන් වහන්සේ කාලකාරාම සූත්‍රය දේශනා කරන්න නෙවෙයි හිටියෙ. උන්වහන්සේ කළුදිය පොකුණේ. කළුදිය පොකුණ ළඟ, කළු තිඹිරි ගහ යට, කළු ගල් ආසනේ -අදටත් තියෙනවා - ආසනේ වැඩ ඉඳිද්දින් එක භික්ෂුවක් උන්වහන්සේගෙන් දහම් සාකච්ඡාවට ප්‍රශ්නයක් ඇහුවා. ඒ ප්‍රශ්නෙට උන්වහන්සේ උත්තරේ දුන්නා කාලාකාරාම සූත්‍රය ඇසුරින්. ඒක විස්තර කරගෙන යනකොට එළිවුනා. ඒකයි ඔය කතාව. ඉතින් පින්වතුනි කාලකාරාම සූත්‍රය කියන්නෙ නැණැත්තෝ තම තම නැණ පමණින් අනේක විදියට විස්තර කරන මේ මුලු බුද්ධ ශාසනයේම දහම් ගම්භීර බව තියෙන සූත්‍ර දේශනාවක්. බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ තියෙන සබ්බඤ්ඤුත ඥාණය, ඒකට කියනවා සබ්බඤ්ඤුත භූමි, සර්වඥ භූමිය මේ සූත්‍ර දේශනාවේ තියෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේගේ සබ්බඤ්ඤුත භාවය, සියල්ල අවබෝධ කරගත්ත බව ප්‍රතිඥා දෙනකොටම මිහිමඩල සෙලවෙනවා, මේ සූත්‍රය ඇතුලෙම. ඊළඟට මෙතන තියෙනවා බුදුරජාණන් වහන්සේගේ සත්‍ය කතා කිරීමේ සත්‍ය වචනයේ ආනුභාවය තියෙනවා. ඒකට කියන්නෙ සත්‍ය භූමි කියලා. ඒකට පොළොව කම්පා වුනා. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස් බව තියෙනවා. ඒ නිකෙලෙස් බවට කියනවා කීනාස්‍රව භූමි. ඒ කීනාස්‍රව බව දේශනා කරනකොම මහපොළොව කම්පා වුනා. මේ සූත්‍රයේම තියෙනවා බුදුරජාණන් වහන්සේගේ ශූන්‍යතා භූමි. බුදුරජාණන් වහන්සේ මේ ලෝකයේ අරමුණුත් එක්ක ග්‍රහණය වෙලා කවලම් වෙන්නැතිව ඒ බුදුරජාණන් වහන්සේ ශූන්‍ය දෙයක් විදියට හිස් දෙයක් විදියට මේ ලෝකය දැකපු විදිය තියෙනවා. ඒකට කියනවා ශූන්‍යතා භූමි

කියලා. එතකොටත් පොළොව කම්පා වුනා. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ අටලෝ දහමින් කම්පා නොවන ගුණය තියෙනවා. ඒකට කියනවා තාදී භූමි. ඒ භූමි, උතුම් වූ බුදුගුණ අට ඉස්මතු වෙනකොට මහාපොළොව පස් වතාවක් කම්පා වුනා. අපි ඒ සූත්‍ර දේශනාව දැන් ශ්‍රවණය කරමු. ඒවං මේ සුතං, ආනන්ද ස්වාමීන් වහන්සේ වදාළා මා විසින් මෙසේ ඇසූයෙමි. ඒකං සමයං භගවා සාකේතේ විහරති කාලකාරාමේ චුල්ලසුභද්‍රා හිටියේ සාකේතයේ. ඒ කාලක සිටුතුමා කියන්නෙ චූලසුභද්‍රාවගේ මාමණ්ඩි. බුදුරජාණන් වහන්සේ චූලසුභද්‍රාවගේ මලින් කරන ලද ආරාධනාව පිළිගෙන එහි වැඩමවා වදාළ වෙලාවේ දහමින් පැහැදුනු මගඵල ලැබූ කාලක සිටුතුමා කරවන ලද ආරාමය, කාලකාරාමය. තත්‍රකෝ භගවා භික්ඛු ආමන්තේසි, එහිලා බුදුරජාණන් වහන්සේ භික්ෂූන් අමතා වදාළා. භික්ඛවෝති, පින්වත් මහණෙනි. භදන්තේති තෙ භික්ඛො භගවතො සොපච්චසෝස්සුං, එහෙමයි ස්වාමීනී කියලා භාග්‍යවතුන් වහන්සේට උත්තර දුන්නා. භගවා ඒතදවෝච, භාග්‍යවතුන් වහන්සේ මෙය වදාළා. යං භික්ඛවේ සදේවකස්ස ලෝකස්ස සමාරකස්ස සබ්‍රහ්මකස්ස සස්සමණබ්‍රාහ්මණියාපජාය සදේව මනුස්සාය, පින්වත් මහණෙනි, දෙවියන් සහිත මරුන් සහිත බඹුන් සහිත ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත දෙව් මිනිස් ප්‍රජාවෙන් යුතු ලෝකයා විසින් දිට්ඨං, දකින ලද. සුතං, අසන ලද, මොතං, මොත කියලා කියන්නෙ නාසයෙන් විඳින ගඳ සුවඳ, කයෙන් විඳින පහස, ඊළඟට දිවෙන් විඳින රස, කයෙන් විඳින පහස මේ තුනටම කියන්නෙ මොත. දිට්ඨං, සුතං, මොතං, විඤ්ඤාතං, දැනගන්නා ලද යමක් ඇත්ද. තත්ථං පරියේසිතං අනුවිචරිතං මනසා, සොයන ලද සිතින් විමසන ලද යමක් ඇත්ද. තම්හං ජානාමි, මම එය දනිමි. ඔන්න තේරුම් කරන්නම්. දෙවියන් මරුන් බඹුන් ශ්‍රමණබ්‍රාහ්මණයන් සහිත දෙව් මිනිස් ප්‍රජාව තුළම සියලූම සත්ත්වයෝ සකල ලෝක ධාතුවේම සත්ත්වයෝ දැක්ක දේවල් තියෙනවා නම් දකින දේවල්, අහන දේවල්, විඳින ගඳ සුවඳ, ඊළඟට විඳින පහස, විඳින රසය, සිතන සිතිවිලි, ඊටපස්සෙ ලබන දේවල් - මොනවහරි ඒ අයට ලැබෙනවානම්, ඒ අය හිතෙන් හොයන දේවල්, හිතෙන් විමසන දේවල්, ඒ සියල්ලම බුදුරජාණන් වහන්සේ දන්නවා. එතකොට දැන් අපිට දිව්‍ය ලෝකෙ තියෙන දේවල් ආඝ්‍රාහණය වෙලා නෑ. අපි දන්නෑ, නමුත් භාග්‍යවතුන් වහන්සේ ඒවා දන්නවා. වෙන සක්වලවල් වල අයට ආඝ්‍රාහණය වෙන ඒවා අපි දන්නෑ. බුදුරජාණන් වහන්සේ ඒක දන්නවා. දෙවියන් මරුන් බඹුන් ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත දෙව් මිනිස් ප්‍රජාවේම අහන, දකින, පෙනෙන, සියලුම දේවල් බුදුරජාණන් වහන්සේ

අවබෝධ කලා. එතකොට සියල්ලම බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා කියලා යමක් ඇත්ද, ඒකට කියන ඥාණය මොකක්ද? සබ්බඤ්ඤුත ඥාණය. අන්න ඔය ඡේදයේ තියෙන්නෙ සබ්බඤ්ඤුත භූමිය. බුදුරජාණන් වහන්සේ මේ සියල්ල අවබෝධ කලා කියලා කියන්නෙ, ඇත්තටම, ඇත්තටම අවබෝධ කලා, මාරයා සිතන දේවල් පවා, යමරජ්ජුරුවෝ සිතන දේවල් පවා, වෙන සක්වලක දෙවිවරු හිතන, මිනිස්සු හිතන දේවල් පවා ඔබ දැන් යමක් හිතුවා නම් ඒක පවා බුදුරජාණන් වහන්සේගේ අවබෝධයට අහුවෙච්ච දෙයක්. මේ සියල්ල බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා කියලා බුදුරජාණන් වහන්සේ දැනගත්තා කියලා දේශනා කරනකොටම මිහිමඩල කම්පා වෙන්න ගත්තා. සබ්බඤ්ඤුත භූමි. සියල්ල අවබෝධ කලා. බුදුරජාණන් වහන්සේ ඊළඟට දේශනා කරනවා යං භික්ඛවේ සදේවකස්ස ලෝකස්ස සමාරකස්ස සබ්‍රහ්මකස්ස සස්සමණබ්‍රාහ්මණියාපජාය සදේව මනුස්සාය, පින්වත් මහණෙනි, දෙවියන් සහිත, මරුන් සහිත, බඹුන් සහිත, ශ්‍රමණබ්‍රාහ්මණයන් සහිත දෙව් මිනිස් ප්‍රජාවෙන් යුතු ලෝකයා විසින් දිට්ඨං සුතං මොතං විඤ්ඤාතං පට්ඨං පරියේසිතං අනුවිචරිතං මනසා දකින ලද අසන ලද ආඝ්‍රාහණය කරන ලද, රස විඳින ලද, පහස විඳින ලද, මනසින් දැනගන්නා ලද, ලබන ලද, සොයන ලද, සිතින් විමසන ලද යමක් ඇත්ද. තම්හං අබ්බඤ්ඤාසිං, මං ඒවා අවබෝධ කලා. තං තථාගතස්ස විදිතං, ඒවා බුදුරජාණන් වහන්සේ ප්‍රකටවම තේරුම් ගත්තු දේවල්. තං තථාගතෝන උපට්ඨාසි, ඒවා තථාගතයන් වහන්සේ ඒ තුළ පිහිටලා ඉන්නෑ. කියන්නෙ පින්වතුනි මේ ලෝකයේ දෙවියන් මරුන් බඹුන් සහිත මේ ලෝකයේ සියලුදෙනා අහන, හිතන, පතන, දකින ලද, ඒ සියල්ලම අවබෝධ කලා බුදුරජාණන් වහන්සේ ප්‍රකටවම. නිකං ලාවට පොඩි අදහසක් නෙවෙයි. ප්‍රකටවම අවබෝධ කලා. මනාව අවබෝධ කලා. අවබෝධ කලාට බුදුරජාණන් වහන්සේ ඒවගෙන් වෙන්ව ඉන්නෙ. දැන් අපි කිව්වොත් එහෙම, අපි කියමු ගීත ගැන තේරෙන කෙනා ගීතත් එක්ක ඉන්නෙ. නටන එක තේරෙන කෙනා නැටුමත් එක්ක ඉන්නෙ. ඔය ඊළඟට එක එක විජ්ජාවන් තේරෙන කෙනා විජ්ජාවත් එක්ක ඉන්නෙ. ලියන කෙනා ලිවිල්ලත් එක්ක ඉන්නෙ. කවි කියන කෙනා කවි කිවිල්ලත් එක්ක ඉන්නෙ. ඒකත් එක්ක එකතු වෙනවා. තමන් දන්න දේත් එක්ක එකතු වෙනවා. බුදුරජාණන් වහන්සේ එකතු වුන් නෑ, නිකෙලෙස්නෙ. බුදුරජාණන් වහන්සේ නිකෙලෙස්. බුදුරජාණන් වහන්සේ ඇසින් රූප දැක ඒ රූප කෙරෙහි නොඇලුන සේක, නොගැටුනු සේක. මුලා නොවුනු සේක. ආශාව දුරු කළ සේක කියලා කියන්නෙ ඒකනෙ. කණෙන්

ශබ්ද අසා ඒ ශබ්ද කෙරෙහි නොඇලුණ සේක, නොගැටුනු සේක, මුලා නොවුනු සේක, ආශාව දුරු කළ සේක. ඒ බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස් බව. මේ තමයි සමස්ථයක් වශයෙන් ගත්තොත් බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස් බව හකුලා වදාළා. දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත ලෝකයේ දෙව් මිනිස් ප්‍රජාව සහිත ලෝකයේ අසන දකින සිතන පතන කිසිම දෙයක් ගැන බුදුරජාණන් වහන්සේ ඇලිලා නෑ. හැබැයි අවබෝධ කරලා අතැඹුලක් සේ. සියල්ල ප්‍රකටව අවබෝධ කරලා නොඇලී වාසය කරනවා. නිකෙලෙස් නේ. ඒ බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස් බව ඒ වචනයෙන් ප්‍රකාශ වෙනකොට මිහිමඬල කම්පා වෙන්න ගත්තා. නිකෙලෙස් බවට කියනවා ක්ෂීනාස්‍රව කියලා. ආස්‍රව ක්ෂය කලා. මෙන්න මේ කොටසට කියනවා ක්ෂීනාස්‍රව භූමිය කියලා. මහපොළොව කම්පා වෙන්න ගත්තා. කිසි දේකට ඇලිලා නෑ භාග්‍යවතුන් වහන්සේ. ඊටපස්සෙ තියෙනවා බුදුරජාණන් වහන්සේ දේශනා කලා යං භික්ඛවේ සදේවකස්ස ලෝකස්ස සමාරකස්ස සබ්‍රහ්මකස්ස සස්සමණබ්‍රාහ්මණියාපජාය සදේව මනුස්සාය දිට්ඨං සුතං මොතං විඤ්ඤාතං පත්ථං පරියේසිතං අනුවිචරිතං මනසා තම්හං ජානාමිති වදෙයයං තංමමස්මුසා. බුදුරජාණන් වහන්සේ වදාළා මේ දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත දෙව් මිනිස් ප්‍රජාව තුළ අසන දකින විඳින පතන -දැන් අර ඉස්සෙල්ලා කිව්වෙ ඇසෙන්, කණෙන්, නාසයෙන්, දිවෙන්, මනසින්- ඊළඟට සිතෙන් සිතන, ලැබෙන, මනසින් අනුවිචරණය කරන - ඒ කියන්නෙ හිත හිතා ඉන්න, එතකොට මේවා ඔක්කෝම ටික බුදුරජාණන් වහන්සේ වදාළොත් ඒවා ගැන මං ඕවා දන්නවා කියලා, ඒක මගේ මුසාවක්. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඒක මම දන්නවා කියලා කිව්වොත් ඒක මුසාවක්. ඇයි එහෙම මුසාවක් වෙන්නෙ? මේ සාමාන්‍ය ලෝකයේ මනුස්සයා දන්නවා කියන විදියට කිව්වොත්. දැන් ලෝකෙ මිනිස්සු මම දන්නවා, ඇත්තටම දැනගෙනද ඔය? බොරුවක්නෙ. මේ ලෝකයේ මිනිස්සුන්ගේ සියලුම දැනුම මුසාවක් නෙවෙයිද? මුසාවක්නෙ. දැන් අනිත්‍යය වශයෙන් දැකලද, දුක් වශයෙන් දැකලද, ඊළඟට අනාත්ම වශයෙන් දැකලද? මොකද භාග්‍යවතුන් වහන්සේ මේ සියල්ල දැනගෙන නිකෙලෙස් වුනානෙ. එතකොට මේ ලෝකයේ මනුස්සයෝ නිකෙලෙස් වුනේ නැත්තෙ මොකද, ඇත්තටම දැනගෙනද? නෑ. ඒ නිසා මම මිනිස්සු ලෝකයේ කියන විදියට දන්නවා කියන වචනය පාවිච්චි කලොත් ඒක මුසාවක්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා යං භික්ඛවේ සදේවකස්ස ලෝකස්ස සමාරකස්ස, දැන් අර ඉස්සෙල්ලා කියපු කාරණාව

තේරෙන්නැත්නම් මං ආපහු කියන්නම්. ලොකු ස්වාමීන් වහන්සේ පරිවර්තනය කරලා තියෙන විදියට කියන්නම්. මහණෙනි, දෙවියන් සහිත, මරුන් සහිත, බඹුන් සහිත, ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත දෙව් මිනිස් ප්‍රජාවෙන් යුතු ලෝකයා විසින් දකින ලද, අසන ලද, ආඝ්‍රාහණය කරන ලද, රස විඳින ලද, පහස ලබන ලද, මනසින් දැනගන්නා ලද, ලබන ලද, සොයන ලද, සිතින් විමසන ලද, යමක් ඇත් ද එය මම සාමාන්‍ය ලෝකයා දකින පරිදි විපරීත සංඥාවෙන් දනිමියි දකින්නෙමියි නම් එය මාගේ බොරු බසෙකි. ඇයි මේ ලෝකයේ මනුස්සයෙක් යමක් දකින්නෙ නිත්‍ය වශයෙන්, සුඛ වශයෙන්, ආත්ම වශයෙන්, සුභ වශයෙන්. නිත්‍යයි, සුඛයි, ආත්මයි, සුභයි කියලා විපරීත සංඥාවෙන්නෙ මේ ලෝක සත්ත්වයා දකින්නෙ මේවා. ඒකනේ මනුස්සයාට අනිත්‍යය වීම දරාගන්න බෑනෙ. ඊළඟට දුක එනකොට දරාගන්න බෑනෙ. තමන්ට ඕන විදියට මේවා තියෙන්නැති වෙනකොට මනුස්සයාට මේවා දරාගන්න බෑනෙ. පිළිකුල් වෙවී යනකොට මනුස්සයාට දරාගන්න බෑනෙ. ඇයි ඒ? මනුස්සයාගේ හිතේ කිඳා බැහැලා තියෙන්නෙ විපරීත සංඥාව. ඒ සංඥාවේ කිඳාබැහැගෙන අවිද්‍යාවෙන්, තණ්හාවෙන්, දෘෂ්ටි, මාන ඔය ඔක්කෝගෙම බැසගෙන තමයි දන්නවා දකිනවා කියලා ලෝක මනුස්සයො කතා කරන්නෙ. ඒ ක්‍රමයට බුදුරජාණන් වහන්සේ කතා කලොත් ඒක බොරුවක් වෙනවා. බුදුරජාණන් වහන්සේ වදාළා යං භික්ඛවේ සදේවකස්ස ලෝකස්ස සමාරකස්ස සස්සමණබ්‍රාහ්මණියා පජාය සදේව මනුස්සයා දිට්ඨං සුතං මොතං විඤ්ඤාතං පත්තං පරියේසිතං අනුවිචරිතං මනසා තම්හං ජානාමීච වදෙය්‍යං තම්පස්ස තාදිස්සමේව, බුදුරජාණන් වහන්සේ ඔය අසන දකින ඔය අහන දකින හිතන පතන දේවල් ගැන දන්නවා කියලා කිව්වොත් ඒ වගේම නොදන්නවා කියලා කිව්වොත් ඒ දෙකත් ඒ වගේම තමයි. ඇයි මේ දන්නවා දකිනවා කියන වචනයක් මේ වෙලාවට පාවිච්චි කරන්නෙ? මේ ලෝකයා දන්නවා දකිනවා කියන විදියට බුදු කෙනෙක් පාවිච්චි කලොත් ඒකත් ඒ වගේ තමයි. ඊටපස්සෙ තම්හං නේවජානාමි නජානාමීති වදෙය්‍යං තම්මමස්සකලි, යම්කිසි ඒ වගේම මං ඒ කියන දේවල් නොදනිමි කියලා, නොදන්නෙ නොවෙමි කියලා කියනවා නම් ඒකත් මගේ කීමේ දොසක්. දන්නවා දකිනවා කියලා කිව්වත් ඒකෙ බොරුවක් තියෙනවා. ඇයි ඒ දන්නවා දකිනවා බොරුවක් වෙන්නෙ. සාමාන්‍ය ලෝකයේ මනුස්සයා දන්නවා දකිනවා කියන විදියට ඒ වචනය පාවිච්චි කරන්න බෑ. එතකොට දන්නෙ නෑ, නොදන්නවා කියලා කිව්වොත් ඒකත් ඒ වගේ දෝෂයක් වෙන්නෙ ඇයි? මේ ලෝකෙ මනුස්සයා දන්නෑ කියන එකයි. ඉතින්

භාග්‍යවතුන් වහන්සේ අවබෝධ කලානෙ මේක. ඒ කියන්නෙ සාමාන්‍ය ලෝකයේ මනුස්සයො කතා කරන විදියට කතා කලොත් බුදුරජාණන් වහන්සේගේ අවබෝධය ඒකෙ දෝෂයක් තියෙනවා කියනවා. මේ බුදුරජාණන් වහන්සේ මෙතන දේශනා කරන්නේ, ඒකෙත් පරිවර්තනය කියලා ඉන්නම්. මහණෙනි, දෙවියන් සහිත, බඹුන් සහිත, මරුන් සහිත, ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත දෙව් මිනිස් ප්‍රජාව තුළ අහන, දකින, හිතන, පතන, සිතෙන් විමසන ලද යමක් ඇත්ද, එය මම සාමාන්‍ය ලෝකයා දක්නා පරිදි විපරීත සංඥාවෙන් දනිමියි කියාත්, නොදනිමියි කියාත් කියන්නෙම් නම් එය එබඳුම වූ දෙයකි. එමෙන්ම එය මම නොදනිමි කියාත්, නොදන්නෙමි නොවෙමි කියාත් කියන්නේ නම් එය මගේ දොස් ඇති කීමකි. එතකොට බුදුරජාණන් වහන්සේ සාමාන්‍ය ලෝකයා දන්නවා දකිනවා නොදන්නවා නොදකිනවා කියන විදියේ වචන බුදුරජාණන් වහන්සේලාගේ අවබෝධය තුළ නෑ. එතකොට මේ බුදුරජාණන් වහන්සේ ඇත්තටම ධර්මය කතා කරන්නේ සත්‍යය තුළ පිහිටලාමයි. බුදුරජාණන් වහන්සේලාගේ සත්‍යය තුළ පිහිටලාමයි ධර්මය කතා කරන්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේලා ව්‍යවහාරයේ දක්ෂයි. ඒ නිසා එනවා, යනවා, කනවා, බොනවා වගේ සාමාන්‍ය ලෝකයේ වචන පාවිච්චි කරනවා. නමුත් අවබෝධයෙහි ලා අවබෝධය පිණිස, ඒ කියන්නෙ බුදු කෙනෙක්ගේ තියෙන අවබෝධය පින්වතුනි, තේරුම් කරන්න බුදු කෙනෙක්ගේ වචන හැරුනුකොට මේ ලෝකයේ වචන වලින් බෑ. බුදුරජාණන් වහන්සේ සත්‍යාවබෝධ කරලා සත්‍යය කතා කරනවා. එතකොට මෙතන තියෙන්නෙ බුදුරජාණන් වහන්සේ මුසා බස් කියන් නෑ සත්‍යයයි කතා කරන්නේ කියලා. මිහිමඬල කම්පා වුනා. මේ තමයි සත්‍යභූමි. සත්‍ය ගැන කියූ විස්තරය. මිහිමඬල කම්පා වුනා. දැන් තුන් වතාවයි. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා, ඉති කෝ භික්ඛවේ තථාගතෝ දට්ඨා දට්ඨබ්බං දිට්ඨං න මඤ්ඤති අදිට්ඨං න මඤ්ඤති දට්ඨබ්බං න මඤ්ඤති දට්ඨාහාරං න මඤ්ඤති, බුදුරජාණන් වහන්සේ ඔන්න බුදුරජාණන් වහන්සේ දැකිය යුතු යමක් දැක්කොත්, ඔන්න දකින්න ඕන දෙයක් දැක්කොත් දිට්ඨං න මඤ්ඤති, මං ඒක දැක්කා කියලා උන් වහන්සේට එහෙම කෙලෙස් සහිත සිතිවිල්ලක් එන් නෑ. මං ඒක දැක්කා කියලා. ඊළඟට අදිට්ඨං න මඤ්ඤති, දැක්කෙ නැති දේවල් ගැන දැක්කෙ නෑ කියලා බුදුරජාණන් වහන්සේට එහෙම සිතිවිලි ඇතිවෙන්නෑ. බුදුරජාණන් වහන්සේගේ සිතිවිලි වල ඒවා නෑ. ඊළඟට දට්ඨබ්බං න මඤ්ඤති, දැකිය යුතුයි කියලා මෙන්න මේ අහවල් දේ නම් මං දැකිය යුතුයි කියලා

බුදුරජාණන් වහන්සේගේ හිතේ සිතිවිලි හටගන්නෙත් නෑ. දට්ඨාභාරං න මඤ්ඤති, බුදුරජාණන් වහන්සේ මේ ලෝකයම අවබෝධ කලානෙ. ඒත් මේ ලෝකෙම දැක්කෙ මං කියලා පුද්ගලයෙක් දකින්නෙත් නෑ. පැහැදිලි ද? ඔන්න ආයෙ විස්තර කරනවා. මහණෙනි මෙසේ තථාගතයන් වහන්සේ දැකිය යුතු යමක් දකින ලද්දේ ද, ඒ පිලිබඳව විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. නොදැක්ක දේ ගැන ද විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. දැක්ක යුතු දේ ගැන විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. දකිනා පුද්ගලයෙක් පිළිබඳව ද විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. එතකොට බුදුරජාණන් වහන්සේ යමක් දකිනවා කියන එකේ බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ ඒ කාරණාව හිස්. ඇයි පින්වතුනි අපි යමක් දැක්කොත් දැක්ක දේවල් එක්ක හිත පිරිලා තියෙනවා. මං අහවල් දේ දැක්කා, මං අහවල් දේ දැකලා නෑ. මං අහවල් දේවල් දකින්න ඕන. මේවා දැක්කෙ මංනෙ. එහෙම නැත්නම් නොදැක්කේ මංනෙ. මමනෙ ඒවා දකින්න ඕන. එතකොට ඒ දකින දේත් එක්ක පුද්ගලයෙක් ඉන්නවා. බුදුරජාණන් වහන්සේ යමක් දැක්කොත් මම මේක දැක්කා, මම මේක නොදැක්කා, මම මේවා දැකිය යුතුයි, මේවා දැක්කෙ මමයි කියන විපරීත සංඥාව බුදුරජාණන්වහන්සේගෙ නෑ, ඒ කාරණාවෙන් හිස්. මොකක්ද කාරණාව? විපරීත බවෙන්, නිත්‍ය, සුඛ, ආත්ම වශයෙන් ඒ කාරණාව ග්‍රහණය කරගැනීමෙන් හිස්. ඊළඟට තියෙනවා සෝතා සෝතබ්බං සුතණ්ණ මඤ්ඤති අසුතණ්ණ මඤ්ඤති සෝ තබ්බන්න මඤ්ඤති සෝ තාරන්න මඤ්ඤති, යමක් ඇහුවොත් ඒ අහපු දේ මම ඇහුවා, මේක ඇහුවෙ නෑ, ඊළඟට මේක අහන්න තියෙනවා, මේවා ඇහුවේ මමනේ කියලා ඒ විපරීත සංඥාව බුදුරජාණන් වහන්සේට නෑ, ඒ විපරීත සංඥාවෙන් බුදුරජාණන් වහන්සේ හිස්. ඒ විපරීත බවින්. දැන් ඒක විස්තර කරනවා මේ බලන්න, තේරුන්නැත්නම් ආයෙ සැරයක්. ඇසිය යුතු දේ පිළිබඳවද යමක් අසන ලද්දේ නම්, එහි විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. නොඅසන ලද්දේ නම් එහිද විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. ඇසිය යුතු ගැන දේද විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. අසන්නා වූ පුද්ගලයෙක් ගැන ද විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. බුදුරජාණන් වහන්සේට විපරීත සංඥාව නෑ, දැන් අපේ ලෝකෙ ගත්තොත් එහෙම විපරීත සංඥාවක් තියෙනවා. අපේ ලෝකෙ පිරිලා තියෙන්නෙ. මොකෙන්ද පිරිලා තියෙන්නෙ? මං අහවල් දේවල් ඇහුවා, මං අහවල් දේවල් අහනවා, මං අහවල් දේවල් ඇහුවේ නෑ. මට අහවල් දේවල් අහන්න තියෙනවා. මේවා ඇහුවේ ඊළඟට ඇහුවේ නැත්තෙ ඊළඟට අහන්න තියෙන්නෙ මට, පුද්ගලයෙක්. අපේ ධර්මය,

ඒ කියන්නෙ සක්කාය දිට්ඨියක් තියෙන එක්කෙනාගෙ ධර්මය අවබෝධ නොකරපු කෙනාගේ ජීවිතය පුද්ගලයෙක්ගෙන් පිරිලා. නිත්‍ය, සුඛ, ආත්ම වලින් තණ්හා, දෘෂ්ටි, මාන වලින් පිරිලා තියෙන්නෙ. ඒකත් එක්කයි ඒ අහන දේවල් පිළිබඳ ඒ හැඟීම් ඇතිවෙන්නෙ. බුදුරජාණන් වහන්සේට අහන දේවල් පිළිබඳව එවැනි දේවල් නෑ. ඒක තේරුම් ගන්න. මේ බුදුරජාණන් වහන්සේගේ ශුන්‍යතා භූමිය. ශුන්‍යතා, මිනිස්සුන්ගේ කල්පනා, මඤ්ඤනා, සිතිවිලි, ඒ වගේම බුදුරජාණන් වහන්සේගේ හිත ඒවගෙන් පිරිලා නෑ, උන්වහන්සේට තියෙනවා අවබෝධයක්. නොඇලුනු අවබෝධයක්. නිකෙලෙස් අවබෝධයක්. කෙලෙස් ප්‍රහාණය කරපු අවබෝධයක්. අමා නිවනත් සමඟ තියෙන අවබෝධයක්. ඊළඟට තියෙනවා මුතා මෝතබ්බං මුතන්න මඤ්ඤති අමුතන්න මඤ්ඤති මෝතබ්බන්න මඤ්ඤති මෝතාරන්න මඤ්ඤති, බුදුරජාණන් වහන්සේට නාසයෙන් විඳින ගඳ සුවඳ වින්දා, වින්දෙ නෑ, විඳින්න තියෙනවා, ඒවා වින්දෙ මම, මේ කෙනෙක් කියලා පුද්ගලයෙක් දකිනවා. දිවෙන් රස වින්දා, දිවෙන් රස වින්දෙ නෑ අහවල් දේවල්. රස විඳින්න තියෙනවා. ඒවා මේ අහවල් දේවල් කෑවෙ බීවෙ මමනෙ. මම අහවල් දේවල් කාලා නෑනෙ. බලන්න ඒ පුද්ගලයෙක් දකිනවා. ඊළඟට කයෙන් පහස මම වින්දා, වින්දෙ නෑ, විඳින්න තියෙනවා, මේ කායික සැපය පහසුව මම මෙච්චර දුක් වින්දා, මගේ ඇඟ කීතු ගැහුනේ මං මෙච්චර දුක් විඳලා, පුද්ගලයෙක් දකිනවා, ආන්න ඒක බුදුරජාණන් වහන්සේ තුළ නෑ, ඒ මිනිසුන්ගේත් තණ්හා දෘෂ්ටි මාන වශයෙන් ග්‍රහණය කරගත්ත ඒ අහන දකින ලෝකයෙන් බුදුරජාණන් වහන්සේගේ හිත හිස්. උන්වහන්සේගේ තියෙන්නෙ අවබෝධයක්. උන්වහන්සේගේ තියෙන්නෙ නිකෙලෙස් බවක්. උන්වහන්සේගේ හිතේ තියෙන්නෙ ශාන්ත බව. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා විඤ්ඤාතා විඤ්ඤාතබ්බං විඤ්ඤාතං න මඤ්ඤති අවිඤ්ඤාතං න මඤ්ඤති විඤ්ඤාතබ්බන්න මඤ්ඤති විඤ්ඤාතාරංන මඤ්ඤති, බුදුරජාණන් වහන්සේ ඒ දැනගත යුතු දේවල් සිතින් විඤ්ඤාණය මුල් වෙලා ඒ දැනගත යුතු දේවල් දැනගත්තා, දැනගන්න තියෙනවා, මේවා දැනගත්තේ පුද්ගලයෙක් කියලා ඒ පුද්ගලයෙක් පිළිබඳව බුදුරජාණන් වහන්සේගේ මඤ්ඤනා කිරීමක් නෑ. ඒ සිතිවිලි ඒ වචන බුදුරජාණන් වහන්සේගේ හිතේ නෑ. ඉතින් ඒ ටික මම ආපහු සැරයක් සිංහලෙන් කියන්නම්. මහණෙනි, මෙසේ තථාගතයන් වහන්සේ දැකිය යුතු යමක් දකින ලද්දේද, ඒ පිළිබඳව විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. නොදැක්ක දේ ගැන විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. දැක්ක යුතු දේ

ගැන විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. දකිනා පුද්ගලයෙක් පිළිබඳව විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. ඇසිය යුතු දේ පිළිබඳව ද යමක් අසන ලද්දේ නම් එහි විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. නොඅසන ලද්දේ නම් එහි ද විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. ඇසිය යුතු දේ ගැන ද විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. අසන්නා වූ පුද්ගලයෙක් ගැන ද විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. එමෙන්ම ආඝ්‍රාණය කරන දේත්, රස විඳින දේත්, පහස ලබන දේත් පිළිබඳව යම් අත්දැකීමක් ලැබූ විට ඒ පිළිබඳව විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. එය ලැබිය යුතු යයි විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. එය ලබන්නෙක් සිටී යයි විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. සිතින් දැන ගත යුතු දේ පිළිබඳව ද, යමක් සිතින් දැනගත්තේ ද එහි විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. සිතින් දැනගත යුතු යමක් ඇත් ද ඒ සිත විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. සිතින් දැනගන්නා කෙනෙක් පිළිබඳ වද විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නැත. එතකොට පින්වත්නි, මොකක්ද මේ විපරීත සංඥාවෙන් යුතු හැඟීමක් නෑ කියෙන්නෙ. ඒ කියන්නෙ භාග්‍යවත් අර්හත් අපගේ දසබලධාරී බුදුරජාණන් වහන්සේ තුළ අහන දකින ගඳ සුවඳ විඳින පහස විඳින රස විඳින සිතන මේ දේවල් පිළිබඳව, මනසින් අනුවිචරණය කරන දේවල් පිළිබඳව තණ්හා දෘෂ්ටි මාන වශයෙන් හෝ ඒ වගේම නිත්‍යයි සුඛයි ආත්මයි සුභයි කියලා හෝ මේ ලෝකයේ සත්ත්වයා ඒ ඇසට කණට නාසයට දිවට කයට මනසට අරමුණු ගන්න විදියට බුදුරජාණන් වහන්සේගේ අරමුණු ගැනීමක් නෑ. එතකොට බුදුරජාණන් වහන්සේගේ ජීවිතය ඒ කෙලෙස් වලින් හිස් වෙලා තියෙන්නෙ. මිනිස්සුන්ගේ මේ ව්‍යවහාරයෙන් හිස්වෙලා තියෙන්නෙ. උන්වහන්සේට තියෙන්නෙ අවබෝධයක්. උන්වහන්සේට තියෙන්නෙ ශූන්‍යතා ඥාණයක්. එතකොට ඒ නිසා තමයි මේ බුදුරජාණන් වහන්සේගේ හිතේ මේ බාහිර ලෝකෙන් ගන්න මේ දේවල් වලින් කෙලෙස් වලින් බාහිරව ගන්න දේවල් වලිනුත් ඇතුල හිස්. ඇතුලෙ කෙලෙස් වලිනුත් හිස්. ඒ බුදුරජාණන් වහන්සේගේ හිතේ බරක් නෑ. කෙලෙස් බර නෑ. ඒ නිසා මේ කොටසට කියනවා ශූන්‍යතා භූමි කියලා. ඔන්න හතරවෙනි බුදුරජාණන් වහන්සේගේ බුදු ගුණ. මේ මිහිමඩල කම්පා වෙන්න ගත්තා මේ කොටස දේශනා කරනකොට. ඊටපස්සෙ පින්වත්නි ඊළඟට තියෙනවා ඉති කෝ භික්ඛවේ තථාගතෝ දිට්ඨ සුත මුත විඤ්ඤාතබ්බේසු ධම්මේසු තාදීයේව තාදී, පින්වත් මහණෙනි, තථාගත තෙමේ දකින ලද අසන ලද, ආඝ්‍රාණය කරන ලද, රසවිඳින ලද, පහස ලබන ලද, මනසින් දැනගන්නා

ලද ධර්මයන් පිළිබඳව ඇතිවන අටලෝ දහම ඉදිරියේ කම්පා නොවන්නේමය. තම්භාච පණීතාදිම්හා අඤ්ඤොතාදී උත්තරීතරෝවා පණීත තොරෝවා නත්ථීති වදාමීති, පින්වත් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා කම්පා වෙන්නෙ නෑ, අකම්පිතව සිටිනවා, ඒ තථාගතයන් වහන්සේ තුළ ඇති තාදී ගුණයට වඩා උත්තරීතර වූ ප්‍රණීතතර වූ වෙනත් තාදී ගුණයක් නැතැයි කියමින්. මේ තමයි බුදුරජාණන් වහන්සේගේ තාදී භූමිය. මේ කොටස දේශනා කරනකොට මිහිමඩල කම්පා වුනා. බුදුරජාණන් වහන්සේට මේ දිට්ඨ සුත මුත විඤ්ඤාත තබ්බේසු ධම්මේසු, මේ පේන ලෝකය මුල් කරගෙන ඇහෙන ලෝකය මුල් කරගෙන, ගඳ සුවඳ විඳින ලෝකය මුල් කරගෙන, රස ලබන ලෝකය මුල් කරගෙන, පහස ලබන ලෝකය මුල් කරගෙන, හිතන ලෝකය මුල් කරගෙන, විඤ්ඤාණයෙන් දැනගත යුතු ලෝකය මුල් කරගෙන බුදුරජාණන් වහන්සේට කිසි සේත් කම්පාවක් ඇතිවෙන් නෑ. අකම්පිතයි. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ තියෙන අකම්පිත භාවය උත්තරීතරයි. ආයෙත් එතනින් එහා අකම්පිත බවක් ලෝකෙ නෑ, ඒ තමයි උත්තරීතර, අකෝප්‍ය බව. කම්පා නොවන ස්වභාවය. ඒ නිසා බුදුරජාණන් වහන්සේ තාදීයි. උත්තරීතර තාදීයි. තාදී කියන්නෙ අටලෝ දහමින් කම්පා වෙන් නෑ. මොකක්ද අට ලෝ දහමින් කම්පා නොවෙනවා කියන්නෙ. අපිට අටලෝ දහම අපේ ජීවිතේ මොනවද අටලෝ දහම. ලාභ අලාභ, යස අයස, නින්දා ප්‍රශංසා, සැප දුක. එතකොට මේ අටලෝ දහමම කෙනෙකුට එන්නේ පේන රූප ගන්ධ ශබ්ද රස ස්පර්ශ අරමුණු මුල් කරගෙන. එතකොට බුදුරජාණන් වහන්සේ මේ රූප ගන්ධ ශබ්ද රස පහස ලෝකෙ කෙරෙහි තාදීයි. උන්වහන්සේ අකම්පිතයි. දැන් අපි ගත්තොත් අපේ ලෝකෙ හරා කම්පිතයිනෙ. අපි ගත්තොත් එහෙම ඔන්න කෑමක් කනවා, නෑ ඇහෙන් බලන රූපෙ ගැන බලමු. අපි කෙනෙක්ට වැඩක් පවරනවා. වෙන විදියකට කරනවා, ඔන්න දැක්ක දේ. ඔන්න කම්පා වෙනවා. කැමති ඇඳුම් අඳින්න නෑ, කම්පා වෙනවා. ඊළඟට තමන්ගේ හිතේ කැමතිම දේ ඇඳගෙන එනවා. එතකොටත් කම්පා වෙනවා. උද්දාමයට පත්වෙනවා. චංචල වුනා. එතකොට මේ රූපවාහිනිය දිහා බලා හිටියා කියන්නෙ, ෆෝන් ගත්තා කියන්නෙ, ෆෝන් එකෙන් බල බලා ඉන්නවා කියන්නෙ, පත්තර බලනවා කියන්නෙ මේ ඔක්කොම මොකක්ද, ඇහෙන් කම්පා වෙවී ඉන්නවා. රූපෙට කම්පා වෙවී ඉන්නවා. අද කීදෙනෙක් මැරිලද, අද කී දෙනෙක් ලෙඩ වෙලාද, මේ අහවලාගෙ ඡන්ද ප්‍රතිඵල කීය ද? ඊළඟට අහවල් ෆේස්බුක් එක කොහොමද, මේ ඔක්කොම බල බලානෙ ඉන්නෙ. අහවල් පැත්තෙ තොරතුරු කොහොමද,

පත්තරෙන් බලනවා. එතකොට මොකද, බලන දේවල් වලින් මොකක්ද වෙලා තියෙන්නෙ, කම්පා වෙනවා. හිනා යන දේට හිනා යනවා, අඬන දේට අඬනවා, තරහ යන දේට තරහා යනවා. පුංචි දෙයින්. තරහකාරයෙක් පොඩ්ඩක් ගස්සපු ගමන්ම තරහා යනවානෙ. කම්පා වෙනවානෙ. එතකොට මේ ලෝක සත්ත්වයා ඇහෙන් දකින රූප කෙරෙහි කම්පා වෙවී ඉන්නෙ. කණෙන් ඇහෙන ශබ්දයට ලෝකයා කම්පා වෙවී ඉන්නෙ. තාදී නෑ, පොඩී ශබ්දයට කම්පා වෙනවා. හොඳක් කිව්වොත් හොඳයි. නිකං අඳුරන්නැති නම්බර් එකකට කෝල් එකක් අරං තෝ දැනගනින් කියලා කෝල් එකක් දුන්නොත් එයා එයින් කම්පා වෙනවා, මේ මොකෙක්ද මට කෝල් කලේ කියලා. පොඩි වචන දෙකට, තෝ දැනගනින්, වචන දෙකයි. කම්පා වෙනවා. ඉතින් ඒවගේ. වැඩිය ඕන නෑ, වචන දෙකක් ඕනත් නෑ, කෝල් එකක් අරන් කතා නොකර ඉන්නවා, කම්පා වෙනවා, මොන යකෙක්ද මේ කියලා. එතකොට කණට ඇහෙන ශබ්ද ඉදිරියේ කම්පා වෙනවා. වැඩිපුර කතා කලොත් තෝංචියක් නෑ කියලා කම්පා වෙනවා. ආදරෙන් කතා කලත් කම්පා වෙනවා. වැඩිය ඕන නෑ, ෆෝන් එකට අඳුරන්නැති නම්බර් එකකින් රත්තරන් කියලා ආවොත් එහෙම, මැසේජ් එකක් එනවා රත්තරන්, කම්පා වෙනවා, අනේ කවුද දන්නෑ කියලා. පොඩි මැසේජ් එකකට, අකුරකට දෙකකට, ලෝකයා කම්පා වෙනවා. ඊළඟට අපි ඉන්න අය අතරට අපි කැමතිම නැති ගඳයි වගේ දැනෙන සෙන්ට් එකක් ගහගෙන එනවා. කම්පා වෙනවා. සැර සෙන්ට් එකක් ගහගෙන එනවා, කම්පා වෙනවා. එක කට්ටියක් කතා කර කර ඉන්නකොට එක්කෙනෙකුට වාතයක් යනවා, කම්පා වෙනවා. ගඳ සුවඳ ඉදිරියේ කම්පා වෙනවානෙ. ඊටපස්සෙ කෑමක් කනකොට, කෑම කනකොට ලුණු වැඩිවුනත් කම්පා, ලුණු මදිවුනත්, ලුණු මදි කියලා කියන්නෙ මේ පුංචි යෝගට් හැන්දකින් ලුණු පොඩ්ඩක් දාපු ගමන් ඒක බැලන්ස් වෙනවා, ඒ ඩිංගට කම්පා වෙනවානෙ. ඊළඟට මොනවද මේ වතුර වගේ, පාටක් වත් නැනෙ. මේ කහ පොඩ්ත්තට. කහ, ලුණු අඩු වුනත්, වැඩි වුනත්, මොනවද මේ කෑම සීතල වෙලා කෑම, මේ සෙල්සියස් අංශක කිහිපයකට. කම්පා වෙනවා. ඉතින් මේ ලෝක සත්ත්වයා කම්පා වෙවී ඉන්නේ. ඊළඟට දාඩිය දැම්මත් කම්පා වෙනවා. හයියෝ පුදුම දාඩියක් ඒසී නැනෙ. ඒසී වැඩිවුනත් කම්පා වෙනවා මේක සීතලේ බෑ කියලා. ඊටපස්සෙ රස්නෙට, සීතලට, අව්වට, වැස්සට, බස් එකක යනකොට, මේ බස් එක ගාට ගාට යනවා කියලා බස් එකේ යනකොට කම්පා වෙනවා හිමීට ගියොත්. වේගයෙන් ගියොත් මේකා අපිව මරන්නද කොහෙද හදන්නෙ කියලා කම්පා වෙනවා. එතකොට හැමතැනකම

තියෙන්නෙ කම්පාව. මේ පුංචි දේ. ඒ එයා කරන්නෙ මොකක්ද, ඇක්සලේටරේ පොඩ්ඩක් පාගන එක. බස් එක ඇතුලේ ඔක්කෝම කම්පා වෙනවා. එතකොට අහන දකින සිතන ඔක්කෝමත් එක්ක, සිතිවිලිත් ඒ වගේ. ඒ සිතිවිලිත් එක්කත් හිත කම්පා වෙවී කම්පා වෙවී තියෙන්නෙ. ඒ නිසා භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට නම් මේ කිසිම ලෝකයක කම්පාවක් නම් නෑ. උන්වහන්සේ වඩින මාවතේ මල් රේණු විසිවුනත්, උන්වහන්සේ වඩින මාවත සම වුනත්, සුදුවැලි ඇතිරුනත්, උන්වහන්සේ වෙලාවකට තබන පියවරට නෙළුම් කුසුමක් පිපුනා, සොඳුරු පාවඩ එලුනා, බුදුරජාණන් වහන්සේගේ බුදු හිතේ නම් නෑ උද්දාමයක්. උන්වහන්සේ වඩින මාවතේ සුප්‍රබුද්ධ රජ්ජුරුවෝ හරහට හිටියා යන්න දෙන්න බෑ කියලා. උන්වහන්සේ වඩින මාවතේ නාලාගිරි ඉදිරියට එව්වා, දුනුවායො එව්වා, බුදුහිතේ නම් නෑ කම්පාවක්. උන්වහන්සේට මේ ලෝකයේ නාග ලෝකයේ පටන්, අකනිටා බ්‍රහ්ම ලෝකය දක්වාම බුදුගුණ යශෝරාවයක් හැදිලා ගියා. නෑ බුදු හිතේ නම් උද්දාමයක්. උන්වහන්සේට සුන්දරී පරිබ්‍රාජිකාව පාවලා බැන්නා. චිංචිමානවිකාව ඇඟිල්ල දික් කර කර උන්වහන්සේ ඉදිරියේ ගෝරනාඩු කලා. ඒ වගේම අන්‍යාගමික පරිබ්‍රාජකයො දොස් පරොස් කිව්වා. නෑ බුදු හිතේ නම් කම්පාවක්. චූලසුභද්‍රාවො අහසට මල් දැම්මා. බුදුරජාණන් වහන්සේගේ සිරසට උඩින් මල් වියනක්. සහම්පති බ්‍රහ්මරාජයා උන්වහන්සේට සේසත් දැරුවා. සුයාම දෙවියෝ පවන් සැලුවා. සක්දෙවිඳු සංඛනාද පැවැත්වූවා. නෑ බුදු හිතේ උද්දාමයක්. දේවදත්ත හිසට ගලක් පෙරලුවා, නෑ බුදුහිතේ කම්පාවක්. බුදුරජාණන් වහන්සේ අකම්පිතයි. තාදීයි. ඉතින් බුදුරජාණන් වහන්සේට පිලුණු පිට්ටුව ලැබුනා. බුදුරජාණන් වහන්සේට කසීභාරද්වාජ කතාවේ බුදුරජාණන් වහන්සේට එදා දානෙ නෑ. දවසක් බුදුරජාණන් වහන්සේ ගමකට වඩිනකොට මාරයා ඒ ගමේ මිනිස්සුන්ට ආරුඪ වෙලා දානෙ දුන්නෙ නෑ, එතකොට පෙනී ඉඳලා කිව්වා දානෙ ලැබුන් නෑ නේද, ආපහු යන්න දානෙ ලැබෙයි. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා, දානෙ මට ඕන නෑ. ප්‍රීති භක්කා භවිස්සාය දේව අභස්සරායතා සුසුකං වත ජීවාම, සුවසේ බුදුරජාණන් වහන්සේලා ජීවත් වෙනවා, කෙලෙස් වලින් පිහිටක් හොයන්නෙ නෑ, ආභස්සර දෙවියෝ වගේ ප්‍රීතිය අනුභව කරලා ඉන්නවා කියලා වදාළා. උන්වහන්සේට කැඳ සිඟිත්තක් ලැබෙනවා පිණ්ඩපාතෙට ගියාම. මේ බුදුරජාණන් වහන්සේට දෙව්ලොවින් සුදහභෝජන ලැබෙනවා. අසදෘශ වගේ මහා දාන ලැබෙනවා. ක්ෂීරපායාසය ලැබෙනවා. නෑ බුදු හිතේ උද්දාමයක්. නෑ කම්පාවක්. ඊළඟට

බුදුරජාණන් වහන්සේ අකනිටා බ්‍රහ්මලෝකයටත් වඩිනවා. සුධර්මා දිව්‍ය සභාවට වඩිනවා. පඬුපුල් ආසනේ අසුන් ගන්නවා. බුදුරජාණන් වහන්සේ සුනීත ඉන්න වීදියට, සැඩොලුන් යන වීදියටත් වඩිනවා, නෑ බුදු සිතේ කම්පාවක්. බුදුරජාණන් වහන්සේ අකම්පිතයි. තාදී වන සේක. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ බුදුරජාණන් වහන්සේ මහාවනයේ වැඩ ඉන්නවා, ඇත්තු උපස්ථාන කරනවා. බුදුරජාණන් වහන්සේ දෙව්ලොව වැඩ ඉන්නවා, සක්දෙවිඳු උපස්ථාන කරනවා. බුදුරජාණන් වහන්සේ සඳුන් වලින් කරපු ගන්ධ කුටියේ වැඩ හිටිනවා, ආනන්ද සමිඳු උපස්ථාන කරනවා, නෑ බුදු හිතේ කම්පාවක්. නන්ද කුමාරයා පිටිපස්සෙන් පාත්‍රය අරගෙන එනවා, ආනන්ද ස්වාමීන් වහන්සේ පාත්‍රය අරගෙන එනවා, දෙවියන් බඹුන් හිසින් පාත්‍රා ධාතූන් වහන්සේ ගන්නවා, නාගසමාල හාමුදුරුවෝ, භාග්‍යවතුන් වහන්සේ ස්වාමීන් වහන්ස මෙහෙන් කෙටි පාරක් තියෙනවා, භාග්‍යවතුන් වහන්සේට වඩින්න බැරි නම් මං වඩිනවා කියලා පාත්‍ර සිවුරු බිම තිබ්බනෙ. නෑ බුදු සිතේ කම්පාවක්. තාදීයී. බුදුරජාණන් වහන්සේ දහම් දේශනා කරනකොට එක්කෙනෙක්වත් අවබෝධ නොකරන අවස්ථා තියෙනවා. බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරනකොට කොටසක් අවබෝධ කරනවා, බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරනකොට සියලුදෙනාම ධර්මය අවබෝධ කරනවා, නෑ බුදු හිතේ කම්පාවක්. රාහුලයන් බුදුරජාණන් වහන්සේ ළඟ සිටිනවා, දේවදත්ත ගල් පෙරලනවා, නෑ බුදු සිතේ කම්පාවක්. රාග ද්වේෂය නැසූ, මෝහ මානය නැසූ, හැම කෙලෙස් මුල් නැසූ මගේ බුදුරජාණන් වහන්සේ සනාතන ලෝ දහම බුදු සිතේ දරාගෙන සියලු දේ අබියසම ශාන්තව හිනැහුනා. බුදුරජාණන් වහන්සේ සියල්ල අභියස ශාන්තව හිනාවුනා. උන්වහන්සේගේ හිනාව අව්‍යාජයි. බොරුවක් නෑ ඒ හිනාවෙ. ඒ නේත්‍රවල බැල්ම අව්‍යාජයි. බොරුවක් නෑ ඒ බැල්මෙ. උන්වහන්සේගේ ගමන අව්‍යාජයි. බොරුවක් නෑ ඒ ගමනේ. බුදුරජාණන් වහන්සේ ආකාසෙන් වඩිනවා. බුදුරජාණන් වහන්සේ පාගමනින් වඩිනවා. නෑ බුදු සිතේ කම්පාවක්. දැන් පයින් යන කෙනෙකුට වාහනයක් හම්බවුනාම කොයිතරම් එයාගෙ හිත උද්දාමයට පත්වෙනවාද. වාහනයක ගිය කෙනෙකුට පයින් යන්න වුනොත් කොයිතරම් මානසිකව වැටෙනවාද. දැන් බලන්න යන එන ගමන් බිමන් නැතිව, ඇඳිරිනීතිය ඉදිරියේ කොච්චර කම්පා වෙනවාද. රස්සාව නැතිවුනාම කොච්චර කම්පා වෙනවද. ලයිට් නැතිවුනොත් කොච්චර කම්පා වෙනවාද. ඉන්ටනෙට් නැතිවුනොත් පිස්සු හැදෙනවා. කම්පාවක් නෑ බුදුවරු, සරණ යන්න. මිහිමඩල කම්පා වුනා මේ

දේශනාවට පස් වතාවක්. පස් වතාවක් කම්පා වුනා. යං කිඤ්චි දිට්ඨං ච සුතං මුතං වා අජ්ඣෝසිතං සච්ච මුතං පරේසං නතේසුතාදී සය සංවුතේසු සච්චං මුසාවාපි පරංදහීය, යම් කිසිවක් දකින ලද්දේද, අසන ලද්දේ ද, ආඝ්‍රාහණය කරන ලද්දේ ද, රස විඳින ලද්දේද, පහස ලබන ලද්දේද, මනසින් බැසගන්නා ලද්දේ ද, ඒවා අන්‍ය වූ සත්‍ය යයි හඟති. ලෝකයා හිතන්නෙ සත්‍යයයි කියලා. අටලෝ දහමින් නොසැලෙන තාදී ගුණයෙන් යුතු මම ඒ සියල්ල කෙරෙහි තෙමේම සංවර වූයේ සත්‍යය හෝ මුසාව හෝ වශයෙන් පවත්නා වූ අන්‍යයන්ගේ බස නොපිළිගනිමි. මේ ලෝක සත්ත්වයෝ සත්‍යයයි, අසත්‍යයයි කියලා මේ කියන කතාව බුදුරජාණන් වහන්සේට පිළිගැනීමක් ඇත්තෙ නෑ. ඒතංච සල්ලං පටිගච්ච දිස්වා තද්දෝසිතා යත්ථ පජා විසත්තා ජානාමි පස්සාමි තතේව ඒතං අජ්ඣෝසිතං නත්ථි තථාගතන්ති, යම් ඉන්ද්‍රිය බද්ධ අරමුණක ලෝක සත්ත්ව ප්‍රජාව ඇලී වසත් ද, එය හුලක් වශයෙන් දැක සාමාන්‍ය ජනයා පවසන අයුරින් දනිමි, දකිමි යැයි පැවසුවද එහි ලා තථාගතයන් තුළ කිසිඳු විපරීත සංඥාවක බැස ගැනීමක් නැත. ලෝකයා කතා කරන විදියට දන්නවා දකිනවා කියලා බුදුරජාණන් වහන්සේ කතා කරනවා. නමුත් මේ මිනිස්සුන්ගේ තියෙන විපරීත සංඥාව නෑ. නිත්‍ය සුඛ ආත්ම සුභ වශයෙන් ගන්න ඒවා, ඊළඟට තණ්හා දෘෂ්ටි මාන කෙලෙස් ඒවා බුදුවරුන්ගේ සිතේ නෑ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ තාදීයි. මේ දේශනාව දේශනා කරනකොට පස් වතාවක් පොළොව කම්පා වුනා. මේ දේශනාවෙන් කරුණු අරගෙන තමයි ඒ දිට්ඨ සුත මුත විඤ්ඤාත පත්ත පරියේසිත අනුවිචරිතං මනසා, ඒ කරුණු කාරණා තේරුම් කරගෙන බුදුරජාණන් වහන්සේගේ සර්වඥතා ඥාණයයි, බුදුරජාණන් වහන්සේගේ ක්ෂීනාශ්‍රව බවයි, බුදුරජාණන් වහන්සේගේ තාදී සත්‍යය ස්වභාවයයි, ඊළඟට සත්‍ය භූමියයි, බුදුරජාණන් වහන්සේගේ ශූන්‍යතා භූමියයි, ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේගේ සිත කෙලෙස් වලින් ශූන්‍ය වී ඇති බව. එතකොට ඒ ශූන්‍යතා භූමියයි. තාදී, අටලෝ දහමින් කම්පා නොවුනු තාදී භූමියයි. ඔන්න ඔය බුදු ගුණ පහ විස්තර කර කර තමයි රෑ එළිවෙනකල් කළුදිය පොකුණේ, කළු තිඹිරි ගහක් යට, කළු ගල් ආසනයක, කළුවර දාක, කළු බුද්ධරක්ඛිත මහරහතන් වහන්සේ කාලකාරාම සූත්‍රය වදාළේ. ඉතින් ඒ නිසා ඒක නුවණැත්තෝ ධර්මය දන්නෝ බුදුගුණ දන්නෝ අනේක ප්‍රකාරයෙන් මේ බුදුගුණ විස්තර කරනවා. මේ කාලකාරාමයයි. ඔබ හෝරාවකටත් අඩු කාලයක් ඇතුලත ශ්‍රවණය කලා. ඒත් කාලකාරාම සූත්‍රයයි. ඉතින් ඒ නිසා මේ බලන්න බුදුරජාණන් වහන්සේගේ සත්‍ය භූමි.

බුදුරජාණන් වහන්සේගේ පළවෙනියට තිබ්බෙ සර්වඥතා භූමි. සර්වඥතා භූමි කිව්වේ අහන දකින, දිට්ඨ සුත මුත විඤ්ඤාත පත්ත පරියේසිත අනුවිචරිතං මනසා, ඒ අහන දකින ඒ ලෝකෙ බුදුරජාණන් වහන්සේ දන්නවා. ඒ භාග්‍යවතුන් වහන්සේගේ තියෙන අවබෝධය, සබ්බඤ්ඤුත බව. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලේ ඒවා මිනිස්සු දන්න විදියට දන්නවා දකිනවා කිව්වොත් ඒක මුසාවක්. දන්නෙ නෑ කිව්වත් ඒක මුසාවක්. ඒ බුදුරජාණන් වහන්සේගේ සත්‍ය භූමිය. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා මම මේවා අවබෝධ කලාට ඒ අවබෝධයත් එක්ක ඉන්නෙ නෑ, ඒවා තුළ පිහිටියේ නෑ, බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස් බව. ඛීනාස්‍රව භූමි. ඊළඟට බුදුරජාණන් වහන්සේ මම දන්නවා, දකිනවා, දකින්න තියෙනවා, මමයි දැක්කෙ කියලා ඒ අරමුණු බුදුරජාණන් වහන්සේගේ හිතේ නෑ හිස් ඒක. ඒක ශූන්‍යතා භූමිය. ඊළඟට මේ සියල්ල ඉදිරියේ, දිට්ඨ සුත මුත විඤ්ඤාත ඉදිරියේ බුදුරජාණන් වහන්සේ අකම්පිතයි, කම්පා වෙන්නෑ. ඒ තාදී භූමියයි. අවසානෙට බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ සියල්ල ඉදිරියේ බුදුරජාණන් වහන්සේ දන්නවා දකිනවා කියලා කතා කලාට ඒ ලෝකයා කතා කරන විදියට නෙවෙයි. ඕක තමයි කියන්නෙ විෂම ලෝකයේ සමව හැසිරෙනවා කියලා. පස්වතාවක් පොළොව කම්පා කරවමින් අසිරිමත් බුදුගුණයත් අනන්ත අවබෝධයත් මේ ලෝකෙ ස්වභාවයත් බුදුරජාණන් වහන්සේ දේශනා කල මේ කාලකාරාම සූත්‍රය අහන්න ඔබටත් පින තිබ්බා. දිව්හිමියෙන් මිහිමඩල කම්පා කොට ධර්මය දේශනා කල එක දේශනාවකින්ම පස් වතාවක් පොළොව කම්පා කල තථාගතයන් වහන්සේ මුලු දිව් හිමියෙන් නිවන් දකින තුරු සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. පහදින්න මේවට. අවසානෙ පැහැදීම ඇතිවෙනවා නම්, ඒත් බුද්ධ ශාසනේට ප්‍රවේශ වෙනවා. නුවණ වැඩෙන්න වැඩෙන්න හිමීට හිමීට අපිට තේරෙයි. ඉතින් ඒ නිසා ඔබටත් ගෞතම සසුනේ අසිරිමත් සම්බුදු සරණ ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් අද දින අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි අරුණ උක්වත්ත මහත්මයා සහ ෂෙහාරා පෙරේරා මහත්මිය විසින්. ඉතින් අපි පළමුවෙන්ම සෙත් ප්‍රාර්ථනා කරමු තථාගතයන් වහන්සේ පස් වතාවක් මිහිමඩල සලිත කරවමින් දේශනා කල කාලකාරාම සූත්‍රයේ අනුහසින්, බුදුරජාණන් වහන්සේගේ සත්‍ය භූමියේ අනුහසින්, බුදුරජාණන් වහන්සේගේ සර්වඥතා භූමියේ අනුහසින්, බුදුරජාණන්

වහන්සේගේ කීනාස්‍රව භූමියේ අනුහසින්, බුදුරජාණන් වහන්සේගේ ශූන්‍යතා භූමියේ අනුහසින්, බුදුරජාණන් වහන්සේගේ තාදී භූමියේ අනුහසින්, අටලෝ දහමින් කම්පා නොවන තථාගත බුදුරජාණන් වහන්සේගේ අනුහසින්, අද මේ රැස් වූ පින් වල අනුහසින්, අපේ මේ මව්රටටත් ලෝකයටත් ව්‍යසනයක් වුනු මේ වසංගතය දුරින්ම දුරු වේවා. රෝගී අය සුවපත් වේවා. මනුස්සයාට ලෙඩක් දුකක් කරදරයක් බියක් සැකක් සංකාවක් නැතිව සුවසේ ජීවත් වෙන්න ආශිර්වාද ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඊළඟට පින්වතුනි අපි පින් පමුණුවමු සියලු දෙවිවරුන්ට, දෙවියෝ මේ පින් අනුමෝදන් වී සියලු දෙවියන්ගේ දිව්‍ය යස ඉසුරු වඩා වර්ධනය වේවා. පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වන දෙවියෝ සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා පින් පමුණුවනවා. ඒවගේම රැස් කරගන්නට යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් ඒකාන්තයෙන් අනුමෝදන් කරමු පින්වතුනි මියපරලොව ගිය ඥාතීන්ට, සියලු දෙනා පරලෝ සැපයට පත්වේවා. ඒ වගේම පරම පූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි අපිට මේ භාග්‍යය ලැබුනේ පින්වතුනි. සාමාන්‍යයෙන් කාලකාරාම සූත්‍රය වගේ විස්තර කරන්න කවුරුත් සාමාන්‍යයෙන් එහෙම එකපාරම ඉදිරිපත් වෙන් නෑ. අපිට මේක සිංහලෙන් පරිවර්තනය කරපු නිසා ඇත්තටම අපි මේ විදියටවත් සූත්‍රය තේරුම් ගත්තෙ. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ කාලකාරාම සූත්‍රය දේශනා කලා, ගෞතම මුණිඳුන් මගේ හිරු සඳු වන සේක කියන නමින් මහමෙව්නාවේ පොත් වහන්සේ නමක් තියෙනවා, ඒ පොත්වහන්සේ කාලකාරාම සූත්‍රය බුදුරජාණන් වහන්සේ දේශනා කරපු ඒ විස්තරය ලොකු ස්වාමීන් වහන්සේගේ ධර්ම දේශනා පොතක් තියෙනවා. ඒ වගේම අංගුත්තර නිකායේ දෙවෙනි පොත් වහන්සේගේ මේ කාලකාරාම සූත්‍රය තියෙනවා කියවන්න. මේ කාලකාරාම සූත්‍රය ගැන බොහෝ කාලයක ඉඳන් මිනිස්සු කතා කරනවා, අපිත් ඉස්සර කියලා තියෙනවා, දන්නෙ නෑ මොකක්ද සූත්‍රය කියලා. ඒ නිසා මේ විදියට අපිට ධර්මය කතා කරන්න ලැබුනේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා. ඒක සත්‍යයක්. නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ ලබත්වා. ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලූම ස්වාමීන් වහන්සේලාට අනාගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ධර්මය අවබෝධ වෙත්වා කියලා අපි පින් පමුණුවමු. ඒ වගේම පින්වතුනි ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් පදිංචි අරුණ උක්වත්ත මහත්මයාටත්, ෂෙහාරා පෙරේරා මහත්මියටත් ඒකාන්තයෙන් අද මේ අසිරිමත් කාලකාරාම සූත්‍රය

දේශනාව කරපු පින අනුමෝදන් වෙත්වා, සුජීවත්ව සිටින දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුව දීර්ඝායුෂ සම්පත්තිය ලැබේවා. ඒ වගේම දායකත්වය දැරූ පින්වතුන්ට සිප් සතර ලබා දුන් සියලු ආචාර්ය ගුරු භවතුන්ට මේ පින් අනුමෝදන් වී දීර්ඝායුෂ සම්පත්තිය ලැබේවා. ඔබ සියලු දෙනාටත්, ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ ධර්මය ප්‍රචාරක කටයුතු සඳහා සම්බන්ධ වන ඔබ සියලු දෙනාට, කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, අපි සියලු දෙනාට, අටලෝ දහම ඉදිරියේ ලාභ අලාභ, යස අයස, නින්දා ප්‍රශංසා, දුක සැප කියන අටලෝ දහම ඉදිරියේ කම්පා නොවී වාසය කරන්න අසිරිමත් සම්බුදු සරණ ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=GrqsmNVz2ZU&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=42

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහනින් ඔබ අපි ආදරයෙන් සරණ ගිය අපේම බුදුරජාණන් වහන්සේ ගැන ඉගෙන ගන්නෙ. බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ අනන්තයි කියන එක ඒකාන්ත සත්‍යයක්. ඉතින් ඒ නිසා ඒ අනන්ත බුදුගුණ වලින් අපි බුදුගුණ

අනන්තයි, බුදුගුණ අනන්තයි කියලා අපි වචනයෙන්ම කියන්නැතිව අපි පොඩ්ඩක් බලන්න ඕන ඒ අනන්ත බුදුගුණ කඳ. අපිට මුහුදේ වතුර ගණන් කරන්න බැරිවුනාට මුහුද දිහා බලන්න බාධාවක් නැනෙ. ආකාසෙ අනන්ත වුනාට ආකාසේ දිහා බලන්න බාධාවක් නැනෙ. මහා පෘථිවිය ගාම්භීර වුනාට පොළොව දිහා බලන්න බාධාවක් නැනෙ. සුළඟ ගැන නොතේරුනාට ඒ සුළඟ ඇඟේ වදිනකොට ඒක විඳින්න බාධාවක් නෑ. බුදුගුණ අනන්ත වුනාට බුදුගුණ කියන්න බාධාවක් නෑ. බුදුගුණ අහන්න බාධාවක් නෑ. ඒ නිසා අපිටත් ශක්ති පමණින් අපි බුදුගුණ කියන්නම්. ඔබටත් ශක්ති පමණින් අහන්න. ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ බණ්ඩාරවෙල, කුඹල්වෙල මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ ශ්‍රද්ධාවන්ත පිරිසක් එකතු වෙලා. ඉතින් ඒ නිසා ඔබ සන්තෝෂයට පත්වෙන්න අද ධර්ම දානය සිද්ධ කිරීම පිළිබඳව. අපගේ පින්වත් පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මීට අවුරුදු පහළොවකට දාසයකට කලින් ඉඳලා බණ්ඩාරවෙල ඇත්තටම අපේ පැත්තට, අපි වැලිමඩ, ඉතින් අපේ පැත්තට ඉස්සෙල්ලාම බණ්ඩාරවෙලින් තමයි ධර්මය ඇහිච්චි තැන. අපිත් ඉස්සෙල්ලාම බණ්ඩාරවෙල මුල් කරගෙන තමයි ධර්මය ඇහුවේ. ඉතින් ලොකු ස්වාමීන් වහන්සේ ඉතාමත් වෙහෙස මහන්සි වෙලා ඈතට ගිහිල්ලා අවුරුදු ගාණක් බණ කියලා අපි කොහොමහරි ඒ අපේ ගුරු ස්වාමීන්වහන්සේ ළඟට අපි ඈතක ඉඳලා ආවා. එතකොට අද මේ බණ පදය ඇහෙන මොහොත දක්වාම ඒ ගමන් මාර්ගයක් තියෙනවා. ඒක දුෂ්කරව ආපු ගමන් මාර්ගයක්. ඉතින් ඒ නිසා අපේ ලොකු ස්වාමීන් වහන්සේ දුෂ්කරව ධර්ම ප්‍රචාරය කලේ ඉස්සර. සමහර වෙලාවට බණ්ඩාරවෙල ධර්ම දේශනා තිබිලා ඊළඟට පහළගමට ධර්ම දේශනාවට වඩිනවා. ඊටපස්සෙ එහෙන් කොළඹට. එහෙන් ඒ අතරතුර ගාල්ල මාතර පැත්තෙ ධර්ම දේශනා තියෙනවා හැමතැනම. ඉතින් මුල් කාලෙ උන්වහන්සේට සමහර වෙලාවට ධර්ම දේශනා කරන තැන්වලින් වාහනයක් එවනවා. ඉතින් එවන වාහනේක වඩිනවා. සමහර දවස්වල මුල්ම කාලෙ කෝච්චි වල ධර්ම දේශනා වලට වැඩම කරලා තියෙනවා. ඊටපස්සෙ අම්මා කෙනෙක් පස්සෙ කාලෙ වාහනයක් පූජා කරලා තියෙනවා, ඒ වාහනේ පස්සෙ කැඩිලා ජනෙල් ඇරගන්න වහගන්න බෑ. සමහර විට ධර්ම දේශනා වලට ගිහිල්ලා එනකොට වැස්ස ආවොත් එහෙම තෙමීලා එන්නෙ. ඉතින් උන්වහන්සේ තෙමුණත් බණ කියන බණ පොත පරිස්සම් කරගෙන එනවා. දවසක් බණ්ඩාරවෙල ඉඳලා ධර්ම දේශනා කරලා උන්වහන්සේ වඩිනකොට

වාහනේ මග කැඩිලා, කියන්න කෙනෙක් නෑ, කතා කරන්න කෙනෙක් නෑ, ඊටපස්සෙ උන්වහන්සේම වාහනෙන් බැහැලා උන්වහන්සේම වාහනේ තල්ලු කරලා ළඟ ගරාජ් එකකට දාලා ඊටපස්සෙ ආයෙ වාහනේකට කතා කරගෙන හිමීට පොල්ගහවෙලට වැඩලා. ඔය වාගේ අප්‍රමාණ දුෂ්කර මාවතක ලොකු ස්වාමීන් වහන්සේ බණ කිය කියා ගමින් ගමට නගරයෙන් නගරයට ගියෙ. ඒ දවස්වල ටීවී වල බණක් තියෙන්නෙ කලාතුරකින්. රේඩියෝ වල බණක් කලාතුරකින්. ඊටපස්සෙ මේ යූටියුබ්, ඉන්ටනෙට්, ෆේස්බුක් ඔය කතා මොකුත් නෑ. ලොකු ස්වාමීන් වහන්සේ දේශනා කරපු ධර්ම දේශනා මේ ඉන්ටනෙට් එකේ තියෙන්නෙ සුලු ප්‍රමාණයක්. උන්වහන්සේ දේශනා කරපු ධර්මය පටිගත නොවීම, සංරක්ෂණය කරගන්න බැරිවෙලාම ගොඩාක් දේශනා යටපත් වෙලා තියෙන්නෙ. ඉතින් මේක තමයි කතාව. මට ඉතින් බණ්ඩාරවෙල කියපුවාම මතක් වුනා ඒ ටික. දැන් මතක් වෙච්ච ටිකක් ඔය කිව්වෙ. ඉතින් උන්වහන්සේ දේශනා කරපු ධර්මය හිස් දෙයක් වුන් නෑ. ඵල ප්‍රයෝජන රහිත දෙයක් වුන් නෑ. උන්වහන්සේ ධර්මය දේශනා කරපු නිසා අද ලංකාවේ ගොඩාක් ස්වාමීන් වහන්සේලා සූත්‍ර දේශනා වලින් ධර්මය දේශනා කරනවා. ගොඩාක් බෞද්ධ මාධ්‍යය බිහිවෙලා. ගොඩාක් මාධ්‍ය වල ධර්ම දේශනා කරනවා. ඉතින් ඒ නිසා මේ වගේ යහපත් පැත්තක් තියෙනවා. වෙහෙර විහාර හැදිලා ගොඩාක් අය පින් කරගත්තා. බොහෝ අය තිසරණයට ආවා. ඉතින් ඒ ආව සරණ කිළිටි කරගන්නැතිව ලැබිච්ච මැණික රැකගන්න කියලා තමයි නැවත නැවත කියන්නෙ. මැණිකේ වටිනාකම කියන්නෙ, මැණික් නැති නිසා නෙවෙයි. තියෙන මැණික රැකගන්න කියලා. ඒ නිසා ශ්‍රද්ධාව ගැන නිතර කියන්නෙ ශ්‍රද්ධාව නැති නිසා නෙවෙයි, තියෙන ශ්‍රද්ධාව රැකගන්න කියලා. ඉතින් ඒ නිසා පින්වත්නි මේ කරුණු කාරණා තේරුම් ගන්න ඕන. මීට කලින් අපි කාලකාරාම සූත්‍රය කලින් වැඩසටහනින් කතා කලා, මිහිමඩල පස්වතාවක් කම්පා වුනා. මිහිමඩල, කාලකාරාම සූත්‍රයේ බුදුරජාණන් වහන්සේගේ සර්වඥතා ඥාණය තියෙනවා. සබ්බඤ්ඤුත ඥාණය, ලෝකයට ප්‍රකට කිරීමක් තියෙනවා. එයින් එක්ක මිහිමඩල කම්පා වුනා. ඒකට කියනවා සර්වඥතා භූමිය. සබ්බඤ්ඤුත භූමිය. බුදුරජාණන් වහන්සේගේ නිකෙලෙස් බව ප්‍රකට වෙනවා ඒ සූත්‍රයෙන්. ඒකට කියනවා ඛීනාස්‍රව භූමිය. මිහිමඩල කම්පා වුනා. බුදුරජාණන් වහන්සේගේ සත්‍යය වචන කතා කිරීම සහ උන්වහන්සේගේ ජීවිතයේ සත්‍යය ඒ සූත්‍රයෙන් ප්‍රකට වෙනවා. එතකොට ඒ සත්‍ය භූමිය ඉදිරියේ මහපොළොව කම්පා වුනා. එතන තියෙනවා බුදුරජාණන් වහන්සේගේ මේ කෙලෙස් සහිත ලෝකයේ

අරමුනු වලින් හිස් බව, බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ ඒවා නෑ. ඒ බවින් හිස්. ඒකට කියනවා ශූන්‍යතා භූමිය. බුදුරජාණන් වහන්සේගේ අටලෝ දහමින් කම්පා නොවන බව එහි තියෙනවා. ඒකට කියනවා තාදී භූමිය. ඒ බුදුරජාණන් වහන්සේගේ ඒ අනන්ත අවබෝධය දවස් ගණන්, වරු ගණන්, සති ගණන්, මාස ගණන්, අවුරුදු ගණන්, මේ මුලු බුද්ධ ශාසනේම ඔය කොටස් පහෙන් විස්තර කරන්න පුලුවන්. ඒ නිසා තමයි අපගේ කළුබුද්ධරක්ඛිත මහරහතන් වහන්සේ රැයක් පුරාවට අපේ බුදුගුණ කඳ කිව්වේ. මිහිමඩල පස්වතාවක් කම්පා වුනා. කෙනෙක් කතා කරනකොට පොළොව කම්පා වෙනවා කියන එක ආශ්චර්‍යයියි අද්භූතයිනෙ පින්වත්නි. දැන් අදත් තියෙන්නෙ, අද දේශනාව සහස්ඝී ලෝක ධාතුවත් කම්පා වෙච්චි කතාවක් අද. සහස්ඝී ලෝක ධාතුව කියලා කියන්නෙ, හිරුගෙන් සඳුගෙන් ආලෝකමත් වෙන චක්‍රාවාට දාහක්, ඉරවල් දාහක් තියෙනවා, සඳවල් දාහක් තියෙනවා, පාථිවි දාහක් තියෙනවා, ඒ වගේම මහා විශාල චූලනිකා සහස්ඝී ලෝක ධාතුවම සලිත වුනා, සෙලවුනා, කම්පා වුනා මේ ධර්ම දේශනාවෙදි. අකනිටා බ්‍රහ්ම ලෝකය දක්වා කම්පා වුනා මේ ධර්ම දේශනාවේදි. ඒ උතුම් ධර්ම දේශනාව අද අපි දේශනා කරන්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේගේ කාලකාරාම සූත්‍රය, ධම්මචක්කපවත්තන සූත්‍රය, ඊළඟට බ්‍රහ්මජාල සූත්‍රය, ඊළඟට අද අපි කතා කරනවා ගෝතමක චෛතිය සූත්‍රය ඒ සූත්‍ර දේශනාවලදී මිහිමඩල කම්පා වුනා. ඉතින් ඔබට ඒවා අහන්න හරි සලස්වන්න ඕන කියලා කල්පනා කලා. මේ තමයි තථාගතයන් වහන්සේගේ අසිරිමත් සම්බුදු බලය. දැන් බුදුරජාණන් වහන්සේ මේ ධර්මයම ගුරු තනතුරේ තියාගත්තා. අජපාල නුග වෘක්ෂ මූලයේ බුදුරජාණන් වහන්සේ කල්පනා කලා ගුරුවරයෙක් නැතිව වාසය කිරීම දුකක්. ඒ නිසා මා දියුණු නොකල සීලයක් හෝ මා දියුණු නොකල සමාධියක් හෝ මා දියුණු නොකල ප්‍රඥාවක් හෝ ලෝකයේ දියුණු කරපු කෙනෙක් වේද, තුන් ලෝක ධාතුවේම නෑ. එහෙනම් මා ධර්මයක් අවබෝධ කලාද, ඒ ධර්ම විනය මා ගුරු කොට සළකන්න ඕන කියලා සිතනකොටම සහම්පති බ්‍රහ්මරාජයා ඉදිරියේ පහළ වුනා. සාදුකාර දීලා කියනවා, සාදූ සාදූ සුගතයන් වහන්ස. භාග්‍යවතුන් වහන්ස. අතීතයේ යම්කිසි බුදු කෙනෙක් පහළ වුනාද, ඒ සියලු බුදුරජාණන් වහන්සේලා ධර්මයම ගුරුවරයා කරගත්තා. අපේ භාග්‍යවතුන් වහන්සේ දැන් ධර්මය ගුරු කරගත්තා වගේ. අනාගතේ යම්තාක් බුදුවරු පහළ වන්නේද, ඒ බුදුරජාණන් වහන්සේලාත් ධර්මය ගුරු කරගන්නේය. මගේ බුදුරජාණන් වහන්සේත් ධර්මය ගුරු කරගත්තා වගේ. සාදු සාදූ භාග්‍යවතුන් වහන්ස කියලා සාදුකාර

පැවැත්තුවා. බලන්න ගුරුවරයෙක්, තමාට ගුරුවරයෙක් තබා ගැනීමේදී බ්‍රහ්මයො පවා සාදුකාර දෙන හැටි. උන්වහන්සේ පළවෙනි ධර්ම දේශනාව කරනකොටත් ඉස්සෙල්ලාම තමන්ගේ ගුරුවරු දිහා බැලුවෙ. ඒ ඔක්කොම මේ වෙනකොට මේ ලෝකෙ නෑ. ඊළඟට තමන්ට උපකාර කරපු අය ගැන බැලුවා. පස්වග භික්ෂූන් වහන්සේලා විෂයෙහි ධර්මය දේශනා කරන්නෙ ඉන් අනතුරුව. ඉතින් පින්වතුනි තථාගතයන් වහන්සේ විසින් ඒ ධර්මය දේශනා කරලා මේ ලෝකයේ දේශනා කර කර වඩිනවා. උන්වහන්සේ මිහිරි ශ්‍රී සද්ධර්මය දේශනා කරද්දි උන්වහන්සේ මේ ලෝකෙට ඉස්සෙල්ලාම ධර්මය දේශනා කලානෙ, ඒ ධර්මය දේශනා කරද්දි තණ්හාවෙන් ලෝකය වැහිලා තිබ්බෙ. තණ්හාවෙන් වැහිලා, තෘෂ්ණාවෙන් වැහිලා, ආලෙ රාමා ආලෙ රතා, ආලෙ සම්මුදිතා. ආලය තුළ වාසය කලා. ඒ කියන්නෙ තෘෂ්ණාව තුළ. ආරාමය කරගෙන ඉන්නවා. ඇලෙන්නේම තෘෂ්ණාවට. ආලෙ සම්මුදිතා. මිනිස්සුන්ට සතුට එන්නේම තෘෂ්ණාව තුලින්. ඒ තෘෂ්ණාව දුරු කරන්න ධර්මය දේශනා කරනකොට බුදුරජාණන් වහන්සේ මේ ලෝක සත්ත්වයා සවන්පත් යොමු කරනවා කියලා යමක් ඇත්ද, ඒක නම් බුදු කෙනෙකුගේ ආශ්චර්‍යයක්මයි. වෙන කෙනෙකුට නම් කරන්න බෑ. මේ ලෝක සත්තවයා මානෙ රාමා, මානෙ රතා, මානෙ සම්මුදිතා. මානය තුළ ඉන්නෙ, මානයටමයි ඇලෙන්නෙ, මානය නැතිව සතුටක් එන්නෙත් නෑ මේ ලෝක සත්ත්වයාට. ඒ මාන්නය දුරු කරන්න බුදු කෙනෙක් ධර්මය දේශනා කරද්දි මේ ලෝක සත්ත්වයා අහනවා කියලා යමක් ඇත්ද, මේක නම් තථාගතයන් වහන්සේගේ ආශ්චර්‍ය අද්භූත කාරණාවක්. මේ ලෝකයේ සත්ත්වයා සංසිඳීමක් නැතුව ඉන්නෙ. හිත විසිරිලා මනුස්සයා වාසය කරන්නෙ, ලෝක සත්ත්වයා. ඒකෙමයි ඉන්නෙ. සිත විසිරීමෙන්ම තමයි සතුටු වෙන්නෙ. එතකොට ඒ හිත සන්සිඳීම පිණිස ධර්මය දේශනා කරනකොට මේ ලෝක සත්ත්වයා අහනවා කියලා යමක් ඇත්ද, ඒක ආශ්චර්‍යයි අද්භූතයි. ඊළඟට අවිජ්ජා රාමා, අවිජ්ජා රතා, අවිජ්ජා සම්මුදිතා, අවිද්‍යාවෙන් වැහිලා අවිද්‍යාව තුළ වාසය කරන්නෙ, ඒකටමයි ඇලෙන්නෙ. නොදන්නා බවින්මයි සතුට උපදින්නේ. ඒ අවිද්‍යාව ප්‍රහාණය කරන්න ධර්මය දේශනා කරනකොට ලෝක සත්ත්වයා අහනවා කියලා යමක් ඇත්ද, ආශ්චර්‍යයි අද්භූතයි. මේ තමයි තථාගත ආශ්චර්‍ය අද්භූත කාරණා හතරක් ඔය මං කිව්වෙ. ඉතින් මේ තුළ දේශනා කරලා ධර්මය දේශනා කරනකොට බුදුරජාණන් වහන්සේ ඒ දේශනා කරපු ධර්මය කොයි වගේද කියලා දේශනා කරනකොට තමයි මේ මිහිමඩල කම්පා වුනේ. ඒක තමිය ගෝතමික චෛතිය

සූත්‍රයේ තියෙන්නෙ. අංගුත්තර නිකායේ තික නිපාතයේ. අපි ඒ දේශනාව ශ්‍රවණය කරමු. ඒකං සමයං භගවා වේසාලයං විහරති ගෝතමිකේ චේතියේ, ඒ කාලේ භාග්‍යවතුන් වහන්සේ ඒ දිනවල වාසය කලේ විසාලා මහනුවර ගෝතමක කියන චෛත්‍යස්ථානයේ, පූජ්‍යස්ථානයේ. තත්‍රකෝ භගවා භික්ඛු ආමන්තේසි. භාග්‍යවතුන් වහන්සේ භික්ෂූන් අමතා වදාළා, පින්වත් මහණෙනි කියලා. සංඝයාද භාග්‍යවතුන් වහන්ස කියලා පිළිතුරු දුන්නා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා අභිඤ්ඤා යාහං භික්ඛවේ ධම්මං දේසේමි නො අනභිඤ්ඤාය, පින්වත් මහණෙනි, මා ධර්මය දේශනා කරන්නේ විශිෂ්ට වූ ඥාණයෙන් අවබෝධ කරගෙනයි. විශිෂ්ට වූ ඥාණයෙන් අවබෝධ කරගෙන නැතිව නම් නෙවෙයි. සනිදානාහං භික්ඛවේ ධම්මං දේසේමි අනිදානං, හේතු සහිතවමයි ධර්මය දේශනා කරන්නේ, හේතුවක් නැතිව නෙවෙයි. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සප්පාටිහාරියා භික්ඛවේ ධම්මං දේසේමි නොඅප්පටිහාරියං. ප්‍රාතිහාර්ය සහිතවමයි ධර්මය දේශනා කරන්නෙ, ප්‍රාතිහාර්ය නැතිව නම් නෙවෙයි. ඍද්ධි ප්‍රාතිහාර්ය, ආදේශනා ප්‍රාතිහාරය, අවවාද ප්‍රාතිහාර්ය, ඒ ප්‍රාතිහාර්යය සහිතව ධර්මය දේශනා කරන්නෙ, ප්‍රාතිහාර්යයන් නැතිව නම් නෙවෙයි. එතකොට බුදු කෙනෙක්ගේ ධර්මයේ තියෙනවා එක බණ පදයක් ගත්තොත්, කන්දදානි භික්ඛවේ ආමන්තයාමි වො වයධම්මා සංකාරා කියන ඒ බුද්ධ වචන තුළ තියෙනවා බුදුරජාණන් වහන්සේගේ විශිෂ්ට වූ අවබෝධ ඥාණයක්. එතන තියෙනවා හේතු සහිත බව. එතන තියනවා ප්‍රාතිහාර්ය. ඒ වචනෙ ප්‍රාතිහාර්යයක් තියෙනවා. ඒ නිසා මේ අනිත්‍යය කියන වචනෙ ප්‍රාතිහාර්යයක් තියෙනවා. දුකයි කියන වචනෙ ප්‍රාතිහාර්යයක් තියෙනවා, බුදු කෙනෙක් දේශනා කරපු ධර්මයේ. ඒ ප්‍රාතිහාර්යයෙන් සත්ත්වයාගේ කෙලෙස් නසලා දානවා, මාර්ග ඵල උපද්දවනවා. දැක්කද බුදුරජාණන් වහන්සේගේ අවබෝධය තවත් කෙනෙකුට ගියපු හැටි. බුදුරජාණන් වහන්සේ දේශනා කලේ යම් හේතුවක් උදෙසාද එහි ඵලය ලැබිච්ච හැටි. බුදුරජාණන් වහන්සේගේ ප්‍රාතිහාර්ය සඵල වෙච්චි හැටි. මේ ධර්මය තුළින්. එතකොට බුදුරජාණන් වහන්සේගේ අවබෝධයයි, බුදුරජාණන් වහන්සේ කෙනෙක් පහළ වෙලා ඒ බලාපොරොත්තු වන හේතුවයි, බුදුරජාණන් වහන්සේගේ ප්‍රාතිහාර්යයි ඔක්කොම තියෙන්නෙ මොකක් තුළද? ධර්මය තුළ. දේශනා කරනවා තස්ස මය්හං භික්ඛවේ අභිඤ්ඤාය ධම්මං දේසේතෝ නොඅනභිඤ්ඤාය, මං මේ විදියට පින්වත් මහණෙනි, විශිෂ්ට ඥාණයෙන් අවබෝධ නොකොට නොව අවබෝධ කරලාම

විශිෂ්ට ඥාණයෙන් ධර්මය දේශනා කරනකොට සනිදානං ධම්මං දේසේතො නොඅනිදානං, හේතු සහිතවම මා ධර්මය දේශනා කරනකොට, හේතු නැතිව නෙවෙයි. හේතු ඇතිවමයි ධර්මය දේශනා කරන්නෙ එතකොට, සප්පාටිහාරියං ධම්මං දේසේතො නොඅප්පටිහාරියං, ප්‍රාතිහාර්ය සහිතව මා ධර්මය දේශනා කරනකොට ප්‍රාතිහාර්යය නැතිව නෙවෙයි, කරණීයෝ ඕවාදෝ කරණීයා අනුසාසනේ, බුදුරජාණන් වහන්සේ වදාළා මාගේ අවවාද පිළිපැදිය යුතුයි. අනුශාසනාව පිළිපැදිය යුතුයි. අලංචපනෝ භික්ඛවේ තුට්ඨීයා අලං අත්ථමනාය, අලං සෝමනස්සාය, ඔබ සතුටට පත්වෙන්න සතුටු සිත් ඇති කරගන්න, සොම්නසට පත්වෙන්න. සම්මා සම්බුද්ධෝ භගවා, භාග්‍යවතුන් වහන්සේ ස්වයංභූත් ඥාණයෙන් ධර්මය අවබෝධ කලා. සම්මා සම්බුද්ධයි කියලා සතුටු වෙන්න, සතුටු සිත් ඇති වෙන්න, සොම්නසට පත්වෙන්න. ස්වක්ඛාතෝ ධම්මෝ, මේ ධර්මය මනාව දේශනා කරලා, අවබෝධයෙන්, හේතු සහිතව, ප්‍රාතිහාර්ය සහිතව, අවබෝධයෙන් ධර්මය දේශනා කලා, ස්වාක්ඛාතයි, මනාව ධර්මය දේශනා කලා කියලා සතුටු වෙන්න, සතුටු සිත් ඇති කරගන්න, සොම්නසට පත්වෙන්න. අලං සෝමනස්සාය, සොම්නසට පත්වෙන්න. සුපටිපන්නෝ සංඝෝ, මේ ධර්මය පිළිපදින සංඝයා සුපටිපන්නයි. මනාව ප්‍රතිපදාව සුදුසුම ප්‍රතිපදාවට ඇවිල්ලා මනාම ප්‍රතිපදාවට ඇවිල්ලා, හරිම ප්‍රතිපදාවට ඇවිල්ලා සංඝයා කෙලෙස් ප්‍රහාණය කරන ප්‍රතිපදාවට ඇවිල්ලා සංඝයා කියලා සුපටිපන්නයි කියලා සන්තෝසයට පත්වෙන්න, සතුටු සිත් ඇතිකරගන්න, සොම්නසට පත්වෙන්න කිව්වා. ඉදමවෝ ච භගවා, භාග්‍යවතුන් වහන්සේ මේ ප්‍රකාශය කරනකොට අත්ථමනාතේ භික්ඛු භගවතෝ භාසිතං අභිනන්දුං, සියලූම සංඝයා සන්තෝෂයට පත්වුනා. ඉමස්මිංච පණ වෙය්‍යාකරණස්මිං බඤ්ඤමානේ. මේ ධර්මය දේශනා කරන විදිය විස්තර කරනකොට. සහස්සී ලෝක ධාතු අකම්පිත්ථාති, සහස්සී ලෝක ධාතුවක් සෙලවිලා ගියා. මෙන්න මේ ධර්ම දේශනාවට. එතකොට ඒක තමයි පින්වතුනි ඒ බුදු කෙනෙක්නෙ මේක දන්නෙ. ඒ අවබෝධයෙන් දේශනා කරනවා කියනකොට ඒ අවබෝධය කියන එක බුදුරජාණන් වහන්සේනෙ දන්නෙ. මේ බුදුරජාණන් වහන්සේගේ අවබෝධය කොයි වගේ එකක් ද කියලා තවත් අවබෝධයක් තියෙන කෙනෙකුටනෙ තේරෙන්නෙ. සඟ ගුණ දන්න කෙනාටනෙ සංඝයා වටින්නෙ. ධර්මය දන්න කෙනාටනෙ ධර්මය වටින්නෙ. බුදුගුණ දන්න කෙනාටනේ බුදුරජාණන් වහන්සේ වටින්නෙ. සසර ගැන දන්න කෙනාටනෙ සරණ වටින්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේලාගේ අවබෝධය

ගැන අපිට නොදැනෙන නිසා මේ වචනය සමහර වෙලාවට අපිට වචනයක් විතරයි, නමුත් මහපොළොව සෙලවුනා. ඒ කියන්නෙ මහපොළොව දන්නවා මොකක්ද මේ බුදුරජාණන් වහන්සේ දේශනා කලේ. අවබෝධයෙන් ධර්මය දේශනා කරනවා කියලා. හේතු සහිතව ධර්මය දේශනා කරනවා කියලා. එතකොට බුදුරජාණන් වහන්සේ හේතු සහිතයි කියන වචනයේ අර්ථය දන්නෙ භාග්‍යවතුන් වහන්සේ. ධර්මය අවබෝධ කරපු අය. බුදු කෙනෙක් හේතුවක් නැතිව ධර්මය දේශනා කරන් නෑ. ආගිය වැලගිය තොරතුරුවත් බුදුරජාණන් වහන්සේ අහන් නෑ කියනවා හේතුවක් නැතිව. බුදුරජාණන් වහන්සේ හේතුවක් නැතිව ආගිය වැලගිය තොරතුරුවත් අහන් නෑ කියනවා. හේතුව අනන්ත සංයුතේ හේතුගාතො භගවා, හේතුවක් නැතිව වචනයක් පිටවෙන්නේ සංයෝජනයක් මුල් වෙලා. ඒ සංයෝජනය බුදුරජාණන් වහන්සේට ප්‍රහාණයි. ඒ නිසා බුදුරජාණන් වහන්සේට අර්ථයක් නැතිව වචනයක් පිට වෙන්නෑ. ද්වයං පටිච්ච භගවතෝ, බුදුරජාණන් වහන්සේ කාරණා දෙකක් මුල් කරගෙන තමයි වචනයක් හරි කිව්වොත්, අලගිය වැලගිය ආගිය වැලගිය තොරතුරු අහන්නෙ පවා. කාරණා දෙකක් මුල් කරගෙන. කුමක්ද? ධම්මංවා භාසිස්සාමි, ධර්මය හෝ දේශනා කරන්නෙමි විනයංවා පංචපෙස්සාමි, විනය හෝ පනවන්නෙමි. ඒ නිසා භික්ෂුව කොහේ ඉඳලද ආවෙ කියලා ඇහුවොත් එක්කො ඒක අහන්නෙ තව ධර්ම දේශනාවක් කරන්න, නැත්නම් සිල් පදයක් පනවන්න. අපි සරණ ගිය ශාස්තෘන් වහන්සේ. ඒ නිසා හේතු සහිතවයි භාග්‍යවතුන් වහන්සේ ධර්මය දේශනා කරන්නෙ, හේතු නැතිව නොවෙයි කියනකොට මිහිමඩල සෙලවෙනවා. මිහිමඩල නෙවෙයි, අකනිටා බ්‍රහ්මලෝකය දක්වා මේ සක්වල වාගේ සක්වලවල් දාහක් කම්පා වුනා. සෙලවී ගියා. තොටිල්ලක් සේ සෙලවී ගියා. ප්‍රාතිහාර්ය, බුදුරජාණන් වහන්සේගේ අපරිමාණ ප්‍රාතිහාර්ය. බුදුරජාණන් වහන්සේට තිබුනු ප්‍රාතිහාර්ය, මේ ප්‍රාතිහාර්ය කියන තැන නේද බුදුරජාණන් වහන්සේගේ සකල ප්‍රාතිහාර්ය ඥාණය තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේගේ අවබෝධය තුළ නේද සබ්බඤ්ඤුත ඥාණය තියෙන්නෙ. මෙතන නේද අපි මෙතෙක් ඉගෙන ගත්තු බුදුරජාණන් වහන්සේගේ ඥාණ සමුදාය, දස බල ඥාණ, විශාරද ඥාණ, ඊළඟට ෂඩ් අසාධාරණ ඥාණ, මහා කම්ම විභංග ඥාණ, පුරුෂ ඉන්ද්‍රිය ඥාණ, පුරුෂ පුග්ගල පරෝපරියත්ත ඥාණ, ඊළඟට තාදී ගුණය, ඊළඟට බුදුරජාණන් වහන්සේගේ සර්වඥතා භූමි, නික්ලේශ භූමි, බුදුරජාණන් වහන්සේගේ සත්‍ය භූමි, ඒ වගේම ශූන්‍යතා භූමි, තාදී භූමි මේ සියල්ලම තියෙනවා නේද මේ ධර්මය

තුළ. ඒ නිසා මේ ධර්මය දේශනා කරනකොට බුදුරජාණන් වහන්සේ දේශනා කලා එච්චර ඥාණයන් තුළ ඉඳලා, එච්චර හේතු සහිතව, එච්චර ප්‍රාතිහාර්ය සහිතව දහම් දෙසද්දි මේක කරන්න කියලා කිව්වා. මේ තමයි මුලු බුද්ධ දේශනාවටම අණ කරපු පාර, අණ කරපු සූත්‍ර දේශනාව. මිහිමඩල කම්පා වුනා. මේක කරන්න. අනිත් තැන් ගොඩාක් තැන් වල තියෙන්නෙ මෙසේ හික්මෙන්න. මෙසේ කලොත් මෙන්න මේ ප්‍රතිඵල එනවා. මේක කළ යුතුයි කියලා වෙන දේශනා වල නෑ. මේ දේශනාවේ තමයි තියෙන්නෙ. ලෝක ධාතු දාහක් සෙලවිලා ගියා. ලෝක ධාතු දාහක් කම්පා වෙලා ගියා. එහෙනම් බුදුරජාණන් වහන්සේ බුද්ධේ අවිචඡප්‍රසාදය, ශ්‍රී සද්ධර්මයේ අවිච්ඡප්‍රසාදය, ආර්ය මහා සංඝ රත්නය කෙරෙහි අවිච්ඡප්‍රසාදය, ආර්ය කාන්ත සිලය පඤ්චසීලය සමාදන් වෙන්න කියලා කිව්වා නම් ඒක කළ යුතුයි. බුදුරජාණන් වහන්සේ වදාළා නම් සත්පුරුෂ ඇසුර, ශ්‍රී සද්ධර්ම ශ්‍රවණය, යෝනිසෝමනසිකාරය, ධම්මානුධම්ම ප්‍රතිපදාව එහි අපි පුහුණු විය යුතුයි. බුදුරජාණන් වහන්සේ වදාළා නම් බුද්ධානුස්සති, ධම්මානුස්සති, සංඝානුස්සති, චාගානුස්සති, සීලානුස්සති, දේවානුස්සති අපි ඒක කළ යුතුයි. බුදුරජාණන් වහන්සේ වදාළා නම් අප්‍රමාදී වෙන්න කියලා අපි ඒක කළ යුතුයි. එහෙනම් ඉතින් බුදු කෙනෙක් මෙච්චරත් දේශනා කරලා, දැන් කාගෙද වැරැද්ද? කාගෙද වැරැද්ද? බුදුකෙනෙක්ගෙද? හේතු සහිතව අවබෝධයෙන් යුතුව ප්‍රාතිහාර්ය සහිතව දේශනා කරපු ධර්මයේද වැරැද්ද? ඒ ධර්මය අනුගමනය කරලා ඒ ධර්මයේ පිහිට තියෙනවා කියලා සාක්ෂි ලෝකෙට ගෙනාපු රහතන් වහන්සේලාද වැරදි? අපි අපිම වැරදි. අපේ දෝෂ. අපේම කෙලෙස් කහට බව. අපේම හීන සිත, අපේම සසර ගමන. ඒ නිසා තමන් ගැන තමන්ට තේරුනා නම් මහමෙරකටත් එහා බුදුගුණ පෙනෙයි. තමන්ට තමන් ගැන පෙනුනා නම් මහමෙරකටත් එහා ධර්මයේ ආශ්චර්‍යය පෙනෙයි. තමන්ට තමන් ගැන තේරුනා නම් රහතුන් ඉදිරියේ දූවිල්ලක් වෙයි. ඒ අයගේ හිතේ තර්ක, වාද විවාද, මාන්නය ඔක්කෝම නැතිවෙලා යයි. තමන්ට තමාව පෙනුනා නම්. ඒ නිසා අපි වාද විවාද කරගෙන අපි දන්නවා අරයා මෙහෙමයි, මෙයා මෙහෙමයි මොනවද මේ? අපි බුදුරජාණන් වහන්සේ වදාළ දේ කරලද. තම තමන්ගේ ජීවිත දිහා බලන්න. බුදුරජාණන් වහන්සේගේ ධර්මය, ඒ කාලයේ මිනිස්සු පුදුම විදියට ඒ ධර්මයට පැහැදුනේ. පිංගයාණි බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ බැහැදැකලා එනවා මහාදවාලෙ, කාරණපාලි බ්‍රාහ්මණයා ඇතින් එනවා. ඒයි පිංගයානි උඹ කොහෙද මේ ගිහිල්ලා එන්නෙ? මං ගියා ඒ ශ්‍රමණ භවත් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මුණගැහෙන්න. ඔහෙත් යනවද?

ඊටපස්සෙ කිව්වා මම කව්ද, දෙවියන් බඹුන් සහිත මේ ලෝකෙ සියලු දෙනා සරණ හොයාගෙන එන්නේ තථාගත බුදුරජාණන් වහන්සේ ළඟටනෙ. ඊටපස්සෙ ඔය ඔච්චර ගුණ කියන්නෙ. අනේ මං කව්ද ගුණ කියන්න. බුදුරජාණන් වහන්සේ කියන්නෙ ප්‍රශංසා ලැබිය යුතු අයගෙනුත් ප්‍රශංසා ලබනවා. ප්‍රශංසා ලබන අයත් ප්‍රශංසා කරන්නෙ බුදුරජාණන් වහන්සේට. පිංගයාණි ඔච්චර ප්‍රශංසා කරන්නෙ ශ්‍රමණ භවත් ගෞතමයන්ට මොකක් දැකලද? එහෙනම් කාරණපාලි නුඹ අහගන්න ඕන. කාරණපාලි යම්කිසි කෙනෙකුට ප්‍රණීත රසයක් අග්‍ර රසයක් ලැබුනොත් එහෙම එයා වෙනත් කෑමක් හොයාගෙන යයිද, වෙන රස හොයයිද, ලෝකෙ රසවත්ම කෑම? ආන්න ඒ වගේ තමයි තථාගතයන් වහන්සේ දේශනා කරන සුත්ත, ගෙය්‍ය, ව්‍යාකරණ, ජාතක, ඉතිවුත්තක ආදී මේ නවාංග ශාස්තෘ ශාසනයේ ධර්මය ඉගෙන ගත්තු කෙනෙක් නම් වෙන බණවල් හොයාගෙන යන් නෑ කිව්වා. එහෙනම් ඔබ වෙන බණක් හොයාගන යනවා නම් වෙන දහමක් හොයාගෙන යනවා නම් වෙන පිළිසරණක් හොයාගෙන තියෙනවා නම් ඔබට දහමේ අග්‍ර රසය පොඩ්ඩක්වත් දිව අගටවත් ලැබිලා නෑ. මේ බ්‍රාහ්මණයෙක් කියන්නෙ, අග්‍ර රසය ලැබිච්ච කෙනා වෙන කෑම හොයන් නෑ. ඊටපස්සෙ කියනවා කාරණපාලි, ඒ තථාගත බුදුරජාණන් වහන්සේගේ ධර්මය මේ වගේ. මී වදයක් වගේ. බඩගින්නෙ පිපාසෙන් යන කෙනෙකුට මී වදයක් ලැබෙනවා. කොහෙන් කෑවත් රහයි. බඩත් පිරෙනවා, රසත් හොඳයි. ආන්න ඒ වගේ බුදුරජාණන් වහන්සේ දේශනා කරන ධර්මය, කොයි පැත්තෙන් ඇහුවත්, ජාතක කතාවකින් ඇහුවත්, ධම්මපද ගාථාවකින් ඇහුවත්, සූත්‍රයකින් ඇහුවත්, ඉතිවුත්තකින් ඇහුවත්, ප්‍රශ්නෝත්තර ධර්මයක් ඇහුවත් හැම පැත්තෙන්ම මිහිරියි, මී වදයක් කනවා වගේ. බඩගින්නෙ ඉන්න කෙනෙකුට. කාරණපාලි, ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී සද්ධර්මය මේ වගේ. ඒ තමයි හොඳ අරටු සඳුන් ගැටයක් අරන්, ඒ හොඳ අරටු සඳුන් ගැටේ කොයි පැත්තෙන් ඉම්බත් සුවඳයි, ආන්න ඒ වගේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය මොන විදියට ඇහුවත් ජාතක, අද්භූත, ඉතිවුත්තක, ගාථා කොයි විදියට ඇහුවත් හිත නම් ප්‍රමුදිත වෙනවා. ප්‍රමුදිත වෙනවා. ශ්‍රී සද්ධර්මය. ඊටපස්සෙ ඒ කාරණපාලි, තථාගතයන් වහන්සේ දේශනා කරපු ශ්‍රී සද්ධර්මය මේ වගේ. ඒ තමයි දක්ෂ වෛද්‍යවරයෙකුට රෝගියෙක් අහුවුනාට පස්සෙ ඒ රෝගයාව සුව කරනවා අර දක්ෂ වෛද්‍යවරයා, සංසිඳීමට පත් කරනවා. ඒ වගේ තථාගතයන් වහන්සේ දේශනා කරන ශ්‍රී සද්ධර්මයෙන් මේ ලෝක සත්ත්වයාගේ සෝක සංතාප දුක්

කම්කටොළු නිවිලා නිවිලා, ඒ සියලු කෙලෙස් රෝග සංසිඳෙනවා. කාරණපාලි තථාගතයන් වහන්සේ දේශනා කරන ශ්‍රී සද්ධර්මය මේ වගේ එකක්. කෙනෙක් ගිමනින් බොහෝ දුර ගිහිල්ලා වෙහෙස වෙලා දාඩිය පෙරාගෙන හරියටම වෙහෙස වෙලා වෙහෙස වෙලා ඉන්නකොට සීතල දිය පොකුණක් තියෙනවා, සුදු වැලි තලාවක් තියෙනවා, මද සුළඟ හමාගෙන යනවා, ඒ පොකුණට බැහැලා එයා නාලා වතුර බීලා, සැනසිල්ලෙ ඉන්නවා. ඒ වාගේ බුදු කෙනෙක්ගේ ධර්මයක් ඇහුවොත් එහෙම. සුත්ත ගෙය්‍ය ව්‍යාකරණ ඉතිඋත්තක ජාතක අද්භූත ධම්ම මේ නවාංග ශාස්තෘ ශාසනයේ මේ ධර්මය ඇහුවට පස්සෙ එයාගේ කායික මානසික සන්තාප පරිදාහ සංසිඳිලා යාන්තම් සැනසිල්ලක් ලැබෙනවා. කාලකාරාම සූත්‍රයේ තියෙන කාරණා පහ. මේ ධර්මය නිසා. ඒ ධර්මය අවබෝධයෙන් බුදුරජාණන් වහන්සේ දේශනා කළේ. කොහොමද බුදු කෙනෙක්ගේ ධර්මයේ ආශ්චර්යය. ගිහි මිනිස්සු කොහොමද කියන විස්තර? ඒක කිව්වා විතරයි අර කාරණපාලි කරත්තෙන් බැහැලා බුදුරජාණන් වහන්සේ ඉන්න දිශාවට නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස, ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට නමස්කාර වේවා කියලා තුන්පාරක් උදම් ඇනුවා. පිංගයාණි, සුන්දරයි. පිංගයාණි සුන්දරයි නුඹ කිවූ කාරණා. වහලා තිබ්බ දෙයක් ඇරලා පෙන්නුවා වගේ. පිංගයාණි අතරමං වුනු කෙනෙකුට පාර කිව්වා වගේ. අඳුරේ ඉන්න කෙනෙකුට තෙල් පහනක් දැල්වුවා වගේ රූප දකින්න. පිංගයාණි නුඹ බුදු කෙනෙක්ගේ ධර්මය මට නොයෙක් අයුරින් කිව්වා. පිංගයාණි නුඹ දරාගන්න, අද පටන් මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා. ශ්‍රී සද්ධර්මය සරණ යනවා, ආර්ය මහා සංඝරත්නය සරණ යනවා. කොහොමද, බණ කිව්වේ හාමුදුරු නමක්ද, ගිහි කෙනෙක්. කොහොමද ධර්මයේ ආශ්චර්යය. බුදු කෙනෙක්ගේ ගුණ කිව්වොත් අපි කව්ද. ප්‍රශංසා ලබන අයගෙනුත් ප්‍රශංසා. අද බණ කියනකොට අනේ ඔයාට නම් ලොකු දැනුමක් තියෙනවා නේද, හ්ම් ගානවා. එයාට ගන්නවා. අනිත් අය සරණ යන්නෑ, තෙරුවන් සරණ යන්නෑ, ඒ තෙරුවන් සරණ යන පිළිවෙල එන් නෑ. ඔහු සරණ යන්නේ ඒ කියන කෙනා. වැරදියි. අපි වුනත් මේ දහම් දෙසද්දි අපි කොතෙකුත් කියනවා අපි ගුරුවරුන්ගෙන් ධර්මය ඉගෙන ගෙන ඒ ශ්‍රී සද්ධර්මය අනිත් අයට අනුකම්පාවෙන් අපිටත් පින් රැස් වෙන අදහසින් ධර්මය කෙරෙහි ප්‍රසාදයෙන් දේශනා කරන්නෙ. නුඹලාද සරණ යා යුත්තේ පින්වත්නි ඒ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේයි. ශ්‍රී සද්ධර්මයයි. ආර්ය මහා සංඝරත්නයයි. අපි වනාහි ශ්‍රාවකයෝ. තේරුම් ගන්න මේක. බුදුරජාණන් වහන්සේගේ ධර්මය.

නැත්නම් කියන්න අපි සද්ධාසීල ස්වාමීන් වහන්සේගේ ධර්මය අහනවා. එතකොට මාව පෙන්නන්න බැරි කෙනෙක් හිටියොත් එහෙම ඕකගේ බණ ඕන නෑ අපිට. එතකොට මේ ප්‍රාතිහාර්ය සහිතව, හේතු සහිතව, අවබෝධයක් ඇතිව තථාගතයන් වහන්සේ දේශනා කරපු ධර්මයටයි ගරහන්නෙ. කුමක්ද අපි දේශනා කරන්නෙ, බුදුරජාණන් වහන්සේ දේශනා කරපු ධර්මය. වැරදුනේ මොකක්ද, කියපු එකා කිව්වෙ සද්ධාසීල ස්වාමීන් වහන්සේගේ බණ කියලා. බුදුරජාණන් වහන්සේගේ බුදුබණ. බියකරු සසර නම් විමානවත්ථුවේ තියෙන කතා. සද්ධාසීල ස්වාමීන් වහන්සේගේ බණ නෙවෙයි, විමානවත්ථුවේ කතා. දිව්‍යලෝක කතා නම් සද්ධාසීල ස්වාමීන් වහන්සේගේ දිව්‍යලෝකෙ නෙවෙයි. විමානවත්ථුවේත් තියෙනවා මෙහෙම. බුදුගුණ නම් සද්ධාසීල ස්වාමීන් වහන්සේ කියන බුදුගුණ නෙවෙයි. මේ ශ්‍රී සද්ධර්මයේ තියෙන බුදු ගුණ. අහවල් සූත්‍රයේ, දැන් මං මේ ගෝතමක චේතිය සූත්‍රයනෙ කරන්නෙ. ඊයෙ කාලකාරාම සූත්‍රය. ඊටපස්සෙ ඊට කලින් පුරුෂ ඉන්ද්‍රිය ඥාණ සූත්‍රය. ඊටපස්සෙ මිගසාලා සූත්‍රය. සූත්‍ර ඇසුරෙන්නේ බුදුගුණ කිව්වේ. ඒ සූත්‍රය කිය යුතුයි. ඒ නිසා හොඳට මතක තියාගන්න, අපිට මුණගැහිලා තියෙනවා, මම දන්නවා මේ අර්බුදය වෙනවාමයි, නම කියන නිසා. නම නොකිය යුතුයි, ධර්මය කිය යුතුයි. ශාස්තෘන් වහන්සේට ප්‍රශංසා කල යුතුයි. මට කොච්චර කටක් තිබ්බත් වැඩක් නෑ, බුදුරජාණන් වහන්සේගේ බුදු ගුණ නැත්නම්. අපිට කොච්චර කටක් තිබ්බත් වැඩක් නෑ ඒ බුදුගුණ ටික කියන්න අපිට දහම දුන් නැත්නම්. ඒ නිසා මෙතන තියෙන්නෙ තේරුම් ගන්න නුවණ, ධර්මය අල්ලන්න. මේ ශ්‍රී සද්ධර්මය ඒකාන්තයෙන්ම ස්වාක්ඛාත්තයි. ආදිකල්‍යාණං, මජ්ඣේකල්‍යාණං, පරියෝසානකල්‍යාණං සාත්තං සබ්‍යංජනං කේවල පරිපුන්නං පාරිසුද්ධං බ්‍රහ්මචරියං ප්‍රකාසේති, මේ ශ්‍රි සද්ධර්මය මුලත් සුන්දරයි, මැදත් සුන්දරයි, අගත් සුන්දරයි. පැහැදිලි වචන තියෙනවා පැහැදිලි අර්ථ තියෙනවා. මුලුමනින්ම බුද්ධ ශාසනේ නිවන් මාර්ගය විස්තර කරන්නෙ. ආන්න ඒකට කියන නම තමයි ස්වාක්ඛාතයි. මැනැවින් දේශනා කළ ධර්මයේ ගුණ තියෙන්නෙ ස්වාක්ඛාතෝ භගවතා ධම්මෝ සන්දිට්ඨිකෝ, එතකොට ස්වාක්ඛාතයි කියන්නෙ ඒකට. මුල මැද අග පිරිසිදු මැනැවින් දේශනා කරන ලද පැහැදිලි අර්ථ ඇති පැහැදිලි වචන ඇති මුලුමනින්ම නිවන් මාර්ගය දේශනා කරන දහමක්. ඒකාන්තයෙන්ම මේ ශ්‍රී සද්ධර්මය ස්වාක්ඛාතයි. භාග්‍යවතුන් වහන්සේගේ ධර්මයේ තියෙන වටිනාකම, මේ ශ්‍රී සද්ධර්මයේ. සන්දිට්ඨිකෝ, ඒ ධර්මය සාන්දෘෂ්ටිකයි. සාන්දෘෂ්ටිකයි කියලා කියන්නෙ පුරුදු කරන කෙනාට ඒ ජීවිතේම ප්‍රතිඵල

එනවා, මෙලොවදීම දකින්න පුලුවන්. සන්දිට්ඨික කියන්නෙ මෙලොවදීම. හොඳට අසුභය වඩනවා නම් පිළිවෙලට, බුදු කෙනෙක් වදාළ විදියට, මේ ජීවිතේම රාගය ප්‍රහාණය වෙනවා. හරියට මෛත්‍රිය වඩනවා නම් මේ ජීවිතේම ද්වේෂය ප්‍රහාණය වෙනවා. මේ ජීවිතේම ආර්ය සත්‍යය විමසනවා නම් මේ ජීවිතේම අවබෝධ වෙනවා ඒක. සන්දිට්ඨිකයි. අකාලිකයි ඒ ශ්‍රී සද්ධර්මය. බුදුරජාණන් වහන්සේ එදත් වදාළා තෘෂ්ණාව ජාතිපි දුක්ඛා ජාති ජරා මරණ සෝක පරිදේව තමයි දුක කියලා ඉතින් අදටත් ඒකනෙ. හෙටටත් ඒකනෙ. අකාලිකයිනෙ. තණ්හාව නිසා දුක හටගන්නෙ කියලා එදා වදාළා, අදත් ඒකයි, හෙටත් ඒකයි. අකාලිකයිනෙ ධර්මය. තණ්හාව නැතිවීම නිවනයි, අදත් තණ්හාව නැතිවුනොත් නිවනයි, හෙටත් තණ්හාව නැතිවුනොත් නිවනයි. අකාලිකයිනෙ ධර්මය. ඒ කාලයෙත් නිවන අවබෝධ කලේ ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන්, අදත් අවබෝධ කරන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන්, හෙටත් අවබෝධ කරන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන්. මාර්ගය වෙනස් වෙන් නෑ, අකාලිකයි කියලා කියන්නෙ ඒකට. මිනිස්සු හිතන්නෙ ඒ කාලෙත් රහත් වුනා, ඇයි අද අපිට බැරි. එතකොට එයා හිතන්නෙ තමන් අකාලිකයි කියලා. ධර්මයයි අකාලික. ඒක හොඳට තේරුම් ගන්න ඕන. ධර්මය අකාලිකයි. ඒහිපස්සිකයි, ඇවිත් බලන්න කියලා කියන්න පුලුවන්. මේකෙ හැංගිලි නෑ. විවෘත වුනාම බබළනවා. අපේ බුද්ධ ශාසනය කියලා හංඟ හංඟ කතා කරන්න, හංඟ හංඟ පොත් නෑ. ඕන ආගමක ඕනම ජාතියක ඕනම කෙනෙකුට අදහන්න පුලුවන්. පුරුදු කරන්න පුලුවන්. මේ කියන ඒවා වෙනවද මේකෙ. සත්‍යයක්ද ඇත්තද. බුදුරජාණන් වහන්සේ නිකෙලෙස් කියලා අපි දේශනා කරනවානෙ ධර්මයෙන්. හොයන්න පුලුවන් බුදුරජාණන් වහන්සේගේ ක්ලේශයක් හොයන්න පුලුවන් නම්. මේ ධර්මයේ වැරදි හොයන්න පුලුවන් නම්. ඒහි පස්සිකයි. ඇවිත් බලන්න කියලා කියන්න පුලුවන්, විවෘත කරන්න පුලුවන්, ඒ ධර්මය. ඕපනයිකයි. මතක තියාගන්න මේ දහමේ ගුණ. මේ ධර්මයේ තියෙන්නෙ තමා පිණිසමයි. දැන් මේ කරන්න කියලා කිව්වේ හාමුදුරුවරුන්ට විතරද? මේ ධර්මය කරන්න කිව්වෙ ධර්මය අහුවෙච්ච කෙනාට ඉක්මණට තමාව පේන්නෙ. දැන් මං නම් මේ ධර්මය අහන්නේ, මං දිහා මං බලන්න ඕන. ඔබ නම් ඔබ දිහා බලන්න ඕන. මේ ධර්මයට කියනවා ධම්මාදාසො. ධර්මය නැමැති ආදාසය, කැඩපත. කණ්ණාඩිය කොයි පැත්තටද හරවන්නෙ පින්වතුනි මූණ බලන කණ්ණාඩිය? තමන්ගේ පැත්තට. එහෙනම් බලන්න ඕන තමන්ගේ, ඒක අනිත් පැත්තට හැරෙව්වොත් බෑ, එතකොට පිටිපස්ස පේන්නෙ. එතකොට තමන්ට තමන්

ජේන් නෑ. ඒ නිසා ධර්මය කියපු ගමන්ම තමාව ගන්න ඕන. එක එක්කෙනා හොයන්න එපා. පවුල් පිටින්, යාලුවො පිටින්, ගම් පිටින්, ප්‍රදේශ පිටින් මේවා අල්ලගන්න එපා. තමන්ට ධර්මය හොයන්න. ඒ නිසා අපේ පැත්තෙ මෙහෙම ධර්මය තිබ්බා, අපි තමයි ඉස්සෙල්ලා ධර්මය කතා කලේ, ඒවා නෙවෙයි, තමන් බලන්න. මට දැන් මොනවද තියෙන්නෙ. මගේ රාගය ප්‍රහාණය වෙලාද, ද්වේෂය ප්‍රහාණය වෙලාද, මෝහය ප්‍රහාණය වෙලාද, මං බුදුරජාණන් වහන්සේ ගැන අවිච්ඡප්‍රසාදයට පත්වෙලාද, ධර්මය ගැන අවිච්ඡප්‍රසාදයට පත්වෙලාද, සංඝයා ගැන අවිච්ඡප්‍රසාදයට පත්වෙලාද, මට පඤ්චසීලය තියෙනවාද, තමන් ගැන බලන්නෙ. මේ ධර්මය දේශනා කරන්නෙ අනුන්ගේ වංහුං හොයන්න නෙවෙයි, තම තමන් දිහා බලන්න. ඕපනයිකයි, තමා තුලින් බැලිය යුතුයි. රූප, වේදනා, සංඥා, සංකාර, විඤ්ඤාණ කියනකොට අනිත් අයගේ රූප වේදනා සංඥා සංකාර නෙවෙයි, මේක තමා තුළින් අන් අයගේ රූප ස්වභාවයන් පවා තේරුම් ගන්න තියෙන්නෙ තමා තුළ ඉස්සෙල්ලා බලන්න ඕන. සතිපට්ඨානය හොඳට කියවන්න. ඉති අජ්ජත්තංවා කායේ කායානුපස්සේ විහරති බහිද්ධාවා කායේ කායානුපස්සේ, ඉස්සෙල්ලා අජ්ජත්ත කාය බලන්න, පස්සේ තමයි බහිද්ධා කාය බලන්න. ඊටපස්සෙ ඒ කාය වල් දෙකේම යථා ස්වභාවය එකයිනෙ කියලා තේරුම් ගන්නෙ. අජ්ජත්ත බහිද්ධාවා කායේ කායානුපස්සති විහරති, සියලුම ධර්මයන් ධම්මානුපස්සනාවයි. ඒ නිසා මේක තේරුම් ගත යුතුයි අපි. මේ ධර්මය ඕපනයිකයි. පච්චත්තං වේදිතබ්බෝ විඤ්ඤූහීති, නුවණැත්තන් තම තම නැණ පමණින් තමයි ධර්මය තේරුම් ගන්නෙ. එකම සූත්‍රයකින් එක්කෙනෙක් සෝවාන් වෙනවා, එක්කෙනෙක් සකදාගාමී වෙනවා, එක්කෙනෙක් අනාගාමී වෙනවා, එක්කෙනෙක් රහත් වෙනවා, තම තමන්ට තේරෙන විදියට. මේ බුද්ධ ශාසනය දේශනා කරගෙන යනකොට එක්කෙනෙක් පින් කරගන්නවා, එක්කෙනෙක් සරණෙ පිහිටනවා, එක්කෙනෙක් පන්සිල් රකිනවා, එක්කෙනෙක් භාවනාව පැත්තට යනවා, එක්කෙනෙක් විදර්ශනා කරනවා, තම තම නුවණට මේ ධර්මය ගන්නෙ. මට භාවනා කරන්න පුලුවන් කියලා අනිත් අයත් ඇදගන්න බෑ ඒකට. මම ශ්‍රද්ධාවට පත්වුනා කියලා අනිත් අයත් ඔක්කෝම ඒකට ඇදගන්න බෑ. මට විදර්ශනාව තේරෙනවා කියලා අනිත් අයත් ඇදගන්න බෑ. නුවණනෙ, තම තම නැණ පමණින් ධර්මය තේරෙන්නෙ. තම තම නැණ පමණට තේරෙන ධර්මයක්. මේ ධර්මය මනාව තේරුනා නම් අපි නිකෙලෙස් වෙලානෙ. මනාව තේරුනා නම් නිකෙලෙස් වෙලානෙ පින්වත්නි. මේ ධර්මය ඒකාන්තයෙන්ම පච්චත්තං වේදිතබ්බෝ විඤ්ඤූහි,

ඔන්න ධර්මයේ ගුණ. අවබෝධයෙන් දේශනා කරන ලද, ප්‍රාතිහාර්ය සහිතව දේශනා කරන ලද, ඊළඟට හේතු සහිතව දේශනා කරන ලද ශ්‍රී සද්ධර්මය ස්වාක්ඛාතයි, මනාව දේශනා කලා. සන්දිට්ඨිකයි. මේ ජීවිතේදිම අවබෝධ කරන්න පුලුවන්. අකාලිකයි, කාලයට අයිති නෑ. කාලයේ පහරකෑමට ලක්වෙන්නෑ. ඒහිපස්සිකයි, ඇවිත් බලන්න කියලා කියන්න පුලුවන්, විවෘත කරන්න පුලුවන්. ඕපනයිකයි, තමා තුළට පමුණුවාගෙන බලන්න ඕන. පච්චත්තං වේදිතබ්බෝ විඤ්ඤූහීති, තම තම නැණ පමණින් මේ ධර්මය දකින්නෙ. මේ ප්‍රාතිහාර්ය සහිතව හේතු සහිතව අවබෝධයෙන් යුතුව දේශනා කරපු ධර්මය අවබෝධ කරන්න පිළිපන් ශ්‍රාවකසංඝයා. යම්කිසි කෙනෙක් මේ ධර්මය පිළිපදිනවා නම් එයා නේද හරි පාරෙ යන්නෙ. එයා නේද කෙලෙස් ගෙවෙන පාරෙ යන්නෙ? එයා නේද රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කරන මාර්ගයේ යන්නේ? එයා නේද සසර ගමන කෙටි කරන මාර්ගයේ යන්නෙ? ආන්න ඒ සංඝයාට කියනවා සුපටිපන්නෝ භගවතෝ සාවකසංඝෝ, සුපටිපන්නයි. මනාව පිළිපන්, හරි පාරට ආවා. ඒ ආර්ය සංඝයා උජුපටිපන්නෝ, ඍජු මාවතක යන්නෙ. මේ පාරේ නෑ එක එක කඩවල් වල නැවතිලා තේ බීලා, ඊටපස්සෙ පොඩි රවුමක් ගහලා, වංගු වංගු ගිහිල්ලා ඒ කතා නෑ. මේ මාර්ගය නම් ඒකාන්තයෙන් එකම තැනකට තියෙන්නෙ. ඒ තමයි අමා මහා නිවන. සෝවාන් වෙච්චි කෙනා යන්නෙත් නිවනට. සකදාගාමී වෙච්ච කෙනා යන්නෙත් නිවනට. අනාගාමී වෙච්චි කෙනා යන්නෙත් නිවනට. රහතන් වහන්සේත් නිවනේ. එකම ඍජු මාවතක්. ආර්ය අෂ්ටාංගික මාර්ගය නැමැති ඍජු මාවතක්. වෙනත් පාරවල් නෑ, හැරෙන තැන් නෑ ඇතුලෙ. එකම ඍජු මාවතක් තියෙන්නෙ. මේ ධර්මය. ඒක පිළිපදින සංඝයාට කියනවා ඍජුපටිපන්නෝ. ඍජු මාවතේ යන අය. පිළිපන් අය. ඤායපටිපන්නෝ, මේ මාවතේ ගියොත් නම් අවබෝධය ඇතිවෙනවාමයි, දුක නම් වූ ආර්ය සත්‍යය පිළිබඳව. දුක්ඛ සමුදය ආර්ය සත්‍යය පිළිබඳව, දුක්ඛ නිරෝධ ආර්ය සත්‍යය පිළිබඳව, මාර්ග ආර්ය සත්‍යය පිළිබඳව, පංචුපාදානස්කන්ධය ගැන, ආයතන ගැන, ස්කන්ධ ගැන, පටිච්ච සමුප්පාදය ගැන අවබෝධය ඇතිවෙනවාමයි මේ වැඩපිළිවෙල අනුගමනය කළොත්. ඤායපටිපන්නෝ භගවතෝ සාවකසංඝෝ, ඒක කරන්නේ සංඝයානෙ. ඒකයි ඒ ඤායපටින්නෝ කියලා කියන්නෙ. සාමීචිපටිපන්නෝ, මේ මාවතේ යන කෙනාගේ කතාවල තියෙන්නෙ දහම් කතාවනෙ. බොරුව නෑ, කේලම නෑ, හිස් වචන නෑ, පරුෂ වචන නෑ, ඊළඟට තමයි ඒ මාවතේ යන කෙනා කැමැති දේ තමයි තවත් කෙනෙක් ඒ දහමට

එනවට, ඒ නිසා දහම් කතාව තියෙනවා. කවදාවත් බණ කියපු නැති හාමුදුරු නමකගේ වුනත් දහම් කතාව තියෙනවා. අන් අය ඒකෙ සමාදන් කරවන ස්වභාවයක් තියෙනවා. ඊළඟට ඒ මාවතට පිළිගන්න ස්වභාවයක් තියෙනවා. මාවතට අනිත් අය එන කැමැති ස්වභාවයක් තියෙනවා. ඒ නිසා සාමීචිපටිපන්නයි, ධර්මය අන් අයට කියලා දෙනවා, සංඝයා. සංඝයා සාමීචිපටිපන්න නිසා තමයි අද දක්වාම ධර්මය තියෙන්නෙ. ඔබ බණ අහන්නෙ. මේ අවුරුදු දෙදහස් හයසීයක් මේ ශාසනය ආවෙ මොකක් නිසාද, සාමීචිපටිපන්න ගුණය නිසානෙ. සංඝයා සාමීචිපටිපන්නයි. අළුවිහාරේ ධර්මය සංගායනා කලා කීවෙ, සංඝයා සාමීචිපටිපන්නයි. වැලි ගොඩක් හිසේ තියාගෙන දුර්භික්ෂ කාලයේ කොල කකා ධර්මය කටපාඩම් කලේ මොකටද, සාමීචිපටිපන්නයි. අන් අයට මේ ධර්මය දෙනවානෙ. සෝවාන්, සකදාගාමී, අනාගාමී, අර්හත් කියලා මාර්ග ඵල හතරයි. සෝවාන් මාර්ගඵල, සකදාගාමී මාර්ගඵල, අනාගාමී මාර්ගඵල, අර්හත් මාර්ගඵල අට දෙනයි පුද්ගලයෝ. යුගල වශයෙන් හතරයි, පුද්ගල වශයෙන් අට දෙනයි. ශ්‍රාවක සංඝයා, සුදුසු නැද්ද පින්වතුනි ඒ ආර්ය මහා සංඝරත්නයට දුර ඉඳලා නමුත් දන් ගෙනල්ලා පූජා කරන්න. ආගන්තුකව දානෙ ගෙනල්ලා පූජා කරන්න. ආහුණෙය්‍යයි, පාහුණෙය්‍යයි, ඒ සංඝයාට පිදුවොත් නේද පින් සිද්ධ වෙන්නෙ. මැරිච්ච කෙනෙකුට පින් දෙන්න ඕන නම්, ඉන්න කෙනෙකුට පින් රැස් කරගන්න ඕන නම්, සසරට පින්කරගන්න ඕන නම්, නිවනට පින් කරගන්න ඕන නම්, කාට දුන්නොත් ද පින් රැස් වෙන්නෙ? සංඝයාට දුන්නොත් නෙ. දක්ඛිණෙය්‍යයි. ඒ උත්තමයන්ට ඇඟිලි එක්කරලා වන්දනා කරන් නැත්නම් කාටද පින්වතුනි වඳින්නෙ. ඒ සාරිපුත්ත මහරහතන් වහන්සේ, මුගලන් මහරහතන් වහන්සේ, මහා විරාගී මහා කාශ්‍යප මහරහතන් වහන්සේ, කාරුණික නෙත් සඟලක් ඇති ආනන්ද මහරහතන් වහන්සේ, තෙදවත් අංගුලිමාල මහරහතන් වහන්සේ, හික්මීමෙන් අග්‍ර රාහුල මහරහතන් වහන්සේ, සංඝයා අංජලිකරණෙය්‍යයි. ඇඟිලි එකතු කොට සාදු සාදු කියලා වඳින්න සුදුසුයි. ඒ සිරිමත් බඹ සිරසෙහි පා පිස්සා සාරිපුත්ත මහරහතන් වහන්සේ. ඇඟිලි දහයෙන් ලෝක ධාතු දහයක් එළිය කරන මහා බ්‍රහ්මයා, ඒ ඇඟිලි එකතු කොට සංඝයාට වැන්දා. අංජලිකරණෙය්‍යයි, ලෝකෙට උතුම් පින්කෙත. මොනවද වපුරන්නේ ලැබෙනවා. සංඝයා තමයි කෙත. තමන්ගේ පුදන දේ වඳින දේ හිතන දේ තමයි බීජය. ඵලය හැදෙනවා. ඔය සඟ ගුණ. බුදුරජාණන් වහන්සේ එතරම් ගුණ සම්පන්නයි, ධර්මය මෙතරම් ගුණ සම්පන්නයි, ශ්‍රාවකයො මෙතරම් ගුණ

සම්පන්නයි. මෙවැනි ශ්‍රාවක සඟරුවනක් පිරිවරාගෙන, මෙවැනි ගුණ ඇති දහමක් දේශනා කරගෙන වැඩ සිටින අපගේ දසබලධාරී බුදුරජාණන් වහන්සේ තුන් ලෝකයටම අග්‍රයි. ඒකාන්තයෙන් තුන් ලෝකට අග්‍රයි. ඒ බුදුරජාණන් වහන්සේ දහම් දෙසනකොට මේ අපි පය ගහලා ඉන්න මහපොළොව සෙලවෙනවා. කීගමනක් සෙලවුනාද, මහපොළොව සාක්ෂියි. ඒකාන්තයෙන් සාක්ෂියි. ඒ සත්‍යානුභාවයෙන්, දසබලධාරීන් වහන්සේ ගැන මේ හිතේ ඇතිවුනු ප්‍රසාදය නිවන් දක්නා මොහොත දක්වා නොසෙල්වේවා. මේ ශ්‍රී සද්ධර්මය ගැන තියෙන පැහැදීම, ආර්ය මහා සංඝරත්නය ගැන තියෙන පැහැදීම නොසෙල්වේවා. නිවන් දකිනා මොහොත දක්වාම දසබලධාරීන් වහන්සේම මාගේ ශාස්තෘන් වහන්සේ වේවා. මේ ධර්මයම ඇසේවා. ශ්‍රාවක සඟරුවනම දකින්න ලැබේවා. සත්පුරුෂ ඇසුරම වේවා. අසිරිමත් සම්බුදු සරණින් අවබෝධයෙන් යුතුව ප්‍රාතිහාර්ය සහිතව හේතු සහිතව දේශනා කරපු ධර්මය ශක්ති පමණින් නමුත් පිළිපදින්න අපිට වාසනාව ලැබේවා.

අද දවසේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නේ බණ්ඩාරවෙල කුඹල්වෙල ශ්‍රී බෝධිපර්වත මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ පින්වතුන්. ඉතින් මේ පින්වතුන් අද දවසේ අප්‍රමාණ පිනක් රැස් කරගන්නවා ශාස්තෘන් වහන්සේගේ දහසක් සක්වල, දහසක් සක්වල කම්පා වූ ගෝතමක චේතිය සූත්‍ර දේශනාව අපි ශ්‍රවණය කලේ. දම් ගුණ, සඟ ගුණ ශ්‍රවණය කලා. ඒ අප්‍රමාණ පින් බලයෙන් දස දහසක් ලෝක ධාතු බුදුරජාණන් වහන්සේග් බුදු ගුණයෙන් කම්පා වූ බව සත්‍යයයි. මිහිමඩල අනේක වාරයෙන් කම්පා වූ බව සත්‍යයයි. ඒ සත්‍යානුභාවයෙන් බුදුගුණ හඳුනාගත්තු මේ මහපොළොවේ ඉන්න මිනිස්සුන්ට මේ තියෙන කරදර වසංගත දුරින්ම දුරු වේවා. ලෙඩක් දුකක් සෝකයක් සංකාවක් නැතිව වාසය කරන්න මිනිස්සුන්ට වාසනාව ලැබේවා. අසිරිමත් බුද්ධානුභාවයෙන් ලෝකයටම සෙත් වේවා කියලා සෙත් පතමු. සියලුම දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. දෙවියන්ගේ යස ඉසුරු වඩා වර්ධනය වෙත්වා. පුණ්‍යානුමෝදනාවෙන් සතුටු වන දෙවියෝ සියලු දෙනා ආරක්ෂා කරත්වා. මේ සියලුම පින් ඒකාන්තයෙන් අනුමෝදන් වෙත්වා පින්වත්නි, මියගිය සියලු ඥාතීන් සැපවත් වේවා. මේ ධර්මය මෙතරම් තෙදවත් බව, මේ ධර්මය මෙතරම් සොඳුරක් ඇති බව, මේ ධර්මය මෙතරම් මිහිරි බව, මේ ධර්මය මෙතරම් හිත් තුළට යන බව, අපිට කියලා දුන්නෙ දැනෙව්වේ සැලැස්සුවේ පරම පූජනීය ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ

සම්පත්තියම ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සඟරුවනට, සිල් මෑණිවරුන්ට, පැවිදි වන දරුවනට, ඒ සියලු දෙනාට බුදුරජාණන් වහන්සේ අවබෝධයෙන් යුතුව හේතු සහිතව ප්‍රාතිහාර්ය සහිතව දේශනා කරපු ධර්මානුශාසනාව පිළිපැදලා පිහිට සළසාගන්න වාසනාව ලැබේවා. ඔබ සියලු දෙනාට, බණ්ඩාරවෙල මහමෙව්නාවට සම්බන්ධ සියලු පින්වතුන්ට, ඒ වගේම ඔබ සියලු දෙනාට මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට ගුරුවරුන්ට පින්සිදු වේවා. ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ සියලු දෙනාට කාර්ය මණ්ඩලයේ, මාධ්‍යය පවත්වාගෙන යන්න උදව් කරන සියලු දෙනාට පින්සිදු වේවා. අපි සියලු දෙනාට අසිරිමත් සම්බුදු සරණ තුළ සැනසිලා මේ දුක් විඳින සංසාරෙන් නිදහස් වෙන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=r0d-ivOrceE&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=43

සාදු සාදු සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් ඔබ ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශාසනය ගැන යම්කිසි දැනුම් තේරුමකට පත්වෙන්න ධර්මය ඉගෙන ගන්නවා. ඉතින් පින්වතුනි අද දවසේත් ශ්‍රද්ධා රූපවාහිනියේත්, ලක්විරු ගුවන් විදුලිය ඔස්සේත් සකල ලෝකයටම

ධර්මය අහන්න සලස්වන්නේ ඔස්ට්‍රේලියාවේ ඇඩිලේඩ් නුවර පදිංචි පින්වත් ඩිලාන් ගීරිහාගම මහත්මයා සහ සෝනාලි යශෝධරා නාවානගේ මහත්මිය විසින් අද දවසේ ධර්ම දායකත්වය ලබන්නේ. ඉතින් මේ පින්වතුන් ඉතාමත් භාග්‍යයකට ලක්වෙනවා, ඒ තමයි විශේෂයෙන් මේ ධර්ම දානය දීම. ධර්ම දානය කියන්නෙ සුලුපටු පිනක් නෙවෙයි. නොඇසූ දහම් අන් අයට අහන්න සලස්වනවා කියන එක සුලු දෙයක් නෙවෙයි. අනිත් එක ඔබම දන්නවා මේ අනිත් රටවල අය තමන්ගේ ජීවිතේ අනතුරේ තියෙද්දින් ලෝකයක්ම අසරණ වෙද්දින් මිනිස්සු හිත හදාගත්තේ ධර්මය අහලා. ගිනිගත්ත ජීවිත වලට ඒ ගින්න සිසිල් වෙන ජලයක් වගේ ධර්මය. ඉතින් ඒ නිසා ඊළඟට මේ ධර්මයෙන් ගොඩාක් අය හිත හදාගත්තා. ඉතින් ඒ නිසා ඒ සියලු පින් ධර්ම දායකත්වය දෙන පින්වතුන්ට සැලසෙනවා. පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ මං මේ දවස් කිහිපය ධර්ම දේශනා කිරීමට යොදාගත්තේ බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරද්දි මහපොළොව කම්පා වෙච්චි සූත්‍ර දේශනා. ඒ කම්පා වුනේ භාග්‍යවතුන් වහන්සේගේ ආනුභාවයත්, ප්‍රකාශ කරන ධර්මයේ තියෙන තේජසත් එක්ක. ඉතින් සමහර වෙලාවට දැන් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ ගත්තොත් මව්කුසේ පිළිසඳගන්නකොට, එතනිනුත් එහා ගත්තොත් එහෙම වෙස්සන්තර රජ්ජුරුවන්ගේ කාලයේ අට වතාවක් මිහිමඬල කම්පා වුනා, මේ බුදු කෙනෙක් නිසා, බෝධිසත්ත්ව ජීවිතේ. මව්කුසේ පිළිසිඳ ගන්නකොට මිහිමඬල කම්පා වෙනවා. බිහිවෙනකොට මිහිමඬල කම්පා වෙනවා. ඊළඟට ධර්මය අවබෝධ කරගෙන සම්බුද්ධත්වයට පත්වෙනකොට මිහිමඬල කම්පා වෙනවා. ප්‍රථම ධර්ම දේශනාව කරනකොට මිහිමඬල කම්පා වෙනවා. ආයුසංස්කාරය අත්හරිනකොට පොළොව කම්පා වෙනවා. පිරිනිවන් පානකොට පොළොව කම්පා වෙනවා. ඉතින් ඒවා සිද්ධ වෙන දේවල්. දැන් මේ විශේෂ අවස්ථා. බුදුරජාණන් වහන්සේ පටිච්ච සමුප්පාදය සිහි කරනකොට සිය වතාවක් පොළොව කම්පා වෙලා තියෙනවා. බුදුරජාණන් වහන්සේ කාලකාරාම සූත්‍රය දේශනා කරනකොට පස්වතාවක් පොළොව කම්පා වෙලා තියෙනවා. ගෝතමක චෛතිය අපි කතා කලා ඒ සූත්‍ර දේශනාව, ලෝක ධාතු දාහක් කම්පා වෙලා තියෙනවා. අද අපි සූත්‍ර දේශනාවක් කතා කරනවා, මේ සූත්‍ර දේශනාව දේශනා කරනකොටත් ලෝක ධාතු දාහක් කම්පා වුනා. මෙහෙම සෙලවිලා යනවා. එතකොට මේ දේශනාවේ විශේෂත්වය තමයි ධර්මය සංගායනා කරනකොට ඉස්සෙල්ලාම සංගායනා කරපු සූත්‍ර දේශනාව. අටුවා ටීකා ලියවෙනකොටත් ඉස්සෙල්ලාම අටුවා වුනු සූත්‍ර දේශනාව.

එතකොට මේ දේශනාව තමයි සාමාන්‍යයෙන් මතකයෙන් දරාගෙන ඒමේදී ඉස්සෙල්ලාම දරාගන්න සූත්‍ර දේශනාව. මේ දේශනාවෙ නම බ්‍රහ්මජාල සූත්‍රය. දීඝ නිකායේ පළවෙනි පොත් වහන්සේගේ. මහා කාශ්‍යප මහරහතන් වහන්සේ ආනන්ද ස්වාමීන් වහන්සේගෙන් ඇහුවේ බ්‍රහ්මජාල දේශනාව කොහේ වදාළේ කොතනකදී ද, ඊටපස්සෙ තමයි ආනන්ද ස්වාමීන් වහන්සේ මේ විස්තර දේශනා කරන්නෙ. ධර්ම සංගායනාවේ ඉස්සෙල්ලාම වදාරන දේශනාව. මේ සූත්‍ර දේශනාව දේශනා කරලා අවසානයේදී ඉරමඩල වල් දාහක්, සඳමඩල වල් දාහක්, ලෝක ධාතු දාහක් සෙලවිලා කම්පා වෙලා ගියා. සාමාන්‍යයෙන් මේ සූත්‍ර දේශනාව අහන්න ලැබෙනවා අඩුයි, මක් නිසාද, දීර්ඝ නිසා. සමහර වෙලාවට අපිටත් මේ දේශනාව දවස් කීපයක් කරන්න වෙයි. නමුත් බුදුරජාණන් වහන්සේගේ තවත් අනේකප්‍රකාර බුදුගුණකඳ ඉවරයක් නෑ. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ නොඇසූ විරූ දහම් පරියායක් මිහිමඩල පවා කම්පා වූ දහම් පරියායක් අහන්න සළස්වනවා නම් හොඳයි කියන අදහසින් මේ දේශනාව කරන්න හිතුවා. බ්‍රහ්මජාල සූත්‍රය. දීඝනිකාය එක. ආනන්ද ස්වාමීන් වහන්සේ වදාළා, ඒවං මේ සුතං, මා විසින් මෙසේ ඇසුවා කියලා. ඒ කාලෙත් භාග්‍යවතුන් වහන්සේ භික්ෂු සංඝයා පිරිවරාගෙන රජගහනුවර ඉඳලා නාලන්දාව දක්වා දීර්ඝ මාවතේ වඩිනවා. එතකොට බුදුරජාණන් වහන්සේ සඟ පිරිසයි පිටිපස්සෙන් යනවා සුප්පිය කියන පරිබ්‍රාජකයයි, බ්‍රහ්මදත්ත කියන ගෝලයයි. එතකොට සුප්‍රිය පිරිවැජියා තාපසයෙක්. ගෝලයා තමයි බ්‍රහ්මදත්ත, තරුණයෙක්. ඉතින් තත්‍රසුඛං සුප්පියෝ පරිබ්බාජකෝ අනේකපරියායේන බුද්ධස්ස අවන්නං භාසති ධම්මස්ස අවන්නං භාසති සංඝස්ස අවන්නං භාසති සුප්පියස්ස පනපරිබ්‍රාජකා සන්තේවාසි බ්‍රහ්මදත්ත මානවකෝ, දැන් සුප්පිය කියන තාපසයා අනේක පරියායෙන් එක එක විදියට බුදුරජාණන් වහන්සේට ගරහනවා. ධර්මයට ගරහනවා. සංඝයාට ගරහනවා. දැන් යන්නේ කොහේද, බුදුරජාණන් වහන්සේගේ පිටිපස්සෙන්. සංඝයාට පිටිපස්සෙ යන්නෙ. ඔහුගේ අතවැසි බ්‍රහ්මදත්ත අනේක පරියායෙන් බුදුරජාණන් වහන්සේට වර්ණනා කරනවා, ධර්මයට වර්ණනා කරනවා, සංඝයාට වර්ණනා කරනවා, මේ ගුරුයි ගෝලයයි දෙන්නා හාත්පසින් වෙනස්. ඉතින් එදා රාත්‍රියේ, දැන් පිටිපස්සෙන් පිටිපස්සෙන් යනවා ඉතින්. එදා රාත්‍රියේ නවතින්න සංඝයා තෝරගත්තේ, භාග්‍යවතුන් වහන්සේ, අම්බලට්ඨිකාවේ රාජකාගාරය, අම්බලට්ඨිකා කියන වනයේ රජවරු විසින් විවේක ගන්න හදපු ශාලාවක්, ඒ ශාලාවේ එදා නැවතුනා. අර සුප්පිය

පිරිවැජියයි, බ්‍රහ්මදත්ත තරුණයයි, ඒ දෙන්නත් ඒ ශාලාවෙම නැවතුනා. එළිවෙනකල්ම වැඩේ, සුප්පිය බනිනවා බුදුරජාණන් වහන්සේට, ධර්මයට, සංඝරත්නයට. බ්‍රහ්මදත්ත එළිවෙනකල් බුදුගුණ කියනවා, දම් ගුණ කියනවා, සඟ ගුණ කියනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ, දැන් මේක සංඝයා පහුවදා කතා වුනා, පහුවදා උදේ. අච්චරියං ආවුසො අද්භූතං ආවුසො, දැන් ඒ කාලෙ හැබැයි පින්වත්නි හරී අද්භූත ජීවිත. දැන් පහුවදා දානෙ ගන්නෙ කොහෙන්ද, දානෙ වළඳන්නෙ කොහෙන්ද, නවතින තැන් වල වැසිකිලි තියෙනවාද, මදුරුවො ඉන්නවාද, ඒ කතා නෑ, පුදුම යුගයක් පහු කලේ. වතුර තියෙනවාද ඒ මොකවත් නෑ. වඩිනවා, හවස් වෙනකොට කොහෙහරි නවතිනවා. භාග්‍යවතුන් වහන්සේත් එහෙමයි. අද කාලෙ ගමනක් යනකොට කොච්චර කන තැන්, බොන තැන්, වැසිකිලි යන තැන් ඔක්කෝම ප්ලෑන් කරලානෙ යන්නෙ. මම ඒක එපා කියනවා නෙවෙයි. මම මේ යුග දෙකේ වෙනස කියන්නෙ. ඉතින් කෙසේ හෝ සංඝයා පහුවදා උදේ කතා වුනා බුදුරජාණන් වහන්සේ සත්තානං නනාදිමුක්තිකතා, සත්ත්වයන්ගේ මේ සිතිවිලි වල තියෙන වෙනස්කම්, චරිත වල ජීවිත වල තියෙන වෙනස්කම් වදාළ එක කොච්චර ඇත්තක්ද, මේ සුප්පිය පිරිවැජියාගේ වැඩේම බුදුරජාණන් වහන්සේට ධර්මයට සංඝයාට ගරහන එක. ඔහුගේම ගෝලයා බුදුගුණ කියනවා, දම් ගුණ කියනවා, සඟ ගුණ කියනවා. බලන්න ගුරයි ගෝලයයි වෙලා හාත්පසින් වෙනස් චරිත දෙකක් වුනානෙ කියලා කතා කර කර ඉන්නකොට බුදුරජාණන් වහන්සේ එතෙන්ට වැඩම කලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ අහනවා පින්වත් මහණෙනි මා එන්න කලින් මොනවද කතා කර කර හිටියේ? ඊටපස්සෙ සංඝයා කියා හිටිනවා ස්වාමීනී අපි මේ කතා කර කර හිටියේ මෙන්න මේ බුදුරජාණන් වහන්සේගේ සත්ත්වයන්ගේ වෙනස දකින එක කොච්චර පුදුම සහගත දෙයක්ද, හැබැටම මේ බලන්න ගුරයි ගෝලයයි, ගුරා තුණුරුවන්ට බනිනවා, ගෝලයා තුණුරුවන්ගේ ගුණ කියනවා. ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේ වදාළා මමංවා භික්ඛවේ පාරේයවන්නං භාසෙය්‍යුං, පින්වත් මහණෙනි මට කව්රුහරි බැන්නොත් ධර්මයට බැන්නොත් සංඝයාට බැන්නොත් තත්‍ර තුම්මේහි අභූතං අභූතතෝ නිබ්බේ ඨේතබ්බං, ඔබ එහෙම බනිනකොට ඔබට ඇහුනොත් එහෙම කල්පනා කරන්න ඕන ඕක සත්‍යයක්ද අසත්‍යයක්ද කියලා. අභූත, ඒක අසත්‍යයක් නෙව කියලා කල්පනාවට ඇවිල්ලා, ඉති පේතං අභූතං ඉති පේතං අතච්චං නත්ථී චේතං අම්මේසු නච පනීතං අම්මේසු සංයුජ්ජති, ඕක බොරුවක්. ඕක සත්‍යය දෙයක් නෙවෙයි. ඕක අපි තුළ තියෙන දෙයක්

නෙවෙයි කියලා කල්පනා කරන්න ඕන. කල්පනා කරලා, ඒක තේරුම් ගන්න ඕන. ඒ කියන දේවල් ඇත්තද නැත්තද කියලා තමයි ඉස්සෙල්ලා තේරුම් ගන්න ඕන කව්රුහරි බැන්නට පස්සෙ. එහෙම තමයි බුදුරජාණන් වහන්සේ අවවාද කරන්නෙ. ඒක ඉස්සෙල්ලාම තේරුම් අරන් තේරුම් කරගෙන ප්‍රශ්නෙ ලිහාගත්තහම හරි කිව්වා. පින්වත් මහණෙනි, මං ගැන වුනත් පිටස්තර අය ගුණ වර්ණනා කරනකොට, ධර්මය වර්ණනා කරනකොට, සංඝයා ගැන වර්ණනා කරනකොට ඔබ ඒ වෙලාවේ අමුතු උද්දාමයකට පත්වෙන්න එපා. මොකද, එහෙම උද්දාමයට පත්වෙන්න ගියොත් ඔබට වෙන අන්තරායක්, ඔබටමයි වෙන්නෙ, මොකද එහෙම වුනාට පස්සෙ සත්‍යය අසත්‍යය තේරුම් ගන්න බැරිව යනවා. හේතුව බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ කාරණයෙන් ඕක නම් ඇති දෙයක්මයි, මේ කාරණය ඕක නම් සත්‍යයක්මයි, මේ කාරණය මේ කියන ගුණය අප තුළ තියෙනවා, ඔය ගුණය අප අතර දකින්න ලැබෙනවා කියලා සත්‍යය, සත්‍යය වශයෙන් තේරුම් ගත්තම හරි. බුදුගුණ කියනකොට ඇත්තටම භාග්‍යවතුන් වහන්සේ ළඟ තියෙනවානෙ, ධර්මයේ ගුණ තියෙනවානෙ, සංඝයාගේ ගුණ තියෙනවානෙ කියලා සත්‍යය තේරුම් ගන්න කිව්වා. ඇයි පින්වතුනි ඡන්නට ධර්මාවබෝධ කරන්න බැරිවුනේ ඒකනේ. අපේ බුදුරජාණන් වහන්සේ, මමයි කන්ථක අශ්වයත් එක්ක ගියේ කියලා අයිතිවාසිකමක් කිව්වා. එතකොට බුදුරජාණන් වහන්සේ ජීවමානව ඉඳිද්දින් අර කන්ථක අශ්වයා, දෙවි කෙනෙක් වෙලා ඇවිල්ලා සෝවාන් වුනා. බුදුරජාණන් වහන්සේ ළඟ මහණවෙච්චි ඡන්න ධර්මය අවබෝධ කලේ බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවටත් පස්සෙ. අවුරුදු අසූවකටත් වැඩිය. අවුරුදු අසූවෙනි වියත් ඉක්මෙව්වට පස්සෙ ඡන්න ධර්මය අවබෝධ කලේ. ඉතින් ඒ නිසා, එහෙමහරි අවබෝධ කලා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඒ වෙලාවේ අමුතුවෙන්, අමුතු ප්‍රමෝදයක් ගන්න හොඳ නෑ, ඉතින් බුදුරජාණන් වහන්සේ ඒකෙන් සතුටු වෙන්න එපා අන්තරාය ඔබටමයි කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා. මේ ඉතින් පින්වතුනි මාර්ගය වඩලා, විදර්ශනාව වඩලා, පුංචි කෙලේශයක් වත් පුංචි කහටක්වත් හිතකට ගන්නැතිව දහම් මග දියුණු කරන උත්තමයො. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ අමුතු ඒ කියන්නෙ අද්භූත කාරණාවක් කියනවා. අප්පමත්තකංකො පනීතං භික්ඛවේ ඕරමත්තකං සීලමත්තකං යේන පුතග්ජනෝ තථාගතස්ස වන්නං වදමානෝ වදෙය්‍ය, පින්වත් මහණෙනි, පෘථග්ජනයා යම් කරුණකින් තථාගයන් වහන්සේගේ ගුණ කියයි නම් ඒ ගුණය අල්පමාත්‍ර වූ දෙයක්මයි.

ස්වල්ප දෙයක්මයි. සීල ගුණ මාත්‍රයක්මයි. පින්වත් මහණෙනි, යම් කරුණකින් පෘථග්ජනයා තථාගතයන් වහන්සේගේ ගුණ කියනවා නම් ඒ අල්ප මාත්‍ර වූ ස්වල්ප වූ සීල ගුණ මාත්‍රය තමයි කියන්නේ කියලා කියනවා. ඒක කියන්නෙ, පෘථග්ජනයෙකු බුදුරජාණන් වහන්සේගේ ගුණ කියනවා කියලා කියන්න පුලුවන්නෙ සීලය විතරයි, සීල මාත්‍රය විතරයි කියලා කියනවා. පෘථග්ජනයෙක් කියන්නෙ, ධර්මය අවබෝධ නොකරපු ශාස්තෘන් වහන්සේගේ සරණට පැමිණිච්චි නැති කෙනෙකුට ධර්මය අවබෝධ නොකරපු කෙනෙකුට බුදු කෙනෙක්ගේ ගුණ කියනවා කියලා කියන්න තියෙන්නෙ සීලය තමයි. ඇයි පින්වතුනි, සීලය බුදුරජාණන් වහන්සේගේ ගුණයක් නෙවෙයිද? බුදුරජාණන් වහන්සේ දේශනා කරනවානෙ සීල මාත්‍රය විතරයි කියන්න වෙන්නෙ කියලා. කෙනෙක් පින්වතුනි අතට වතුර දෝතක් ගත්තොත් ඊට වැඩිය තියෙනවා බේසමේ. බේසමේ තියෙන වතුර ටික ගත්තොත් ඊට වැඩිය වතුර තියෙනව කළයේ. කළේ වතුර ටික ගත්තොත් ඊට වැඩිය වතුර තියෙනවා ළිඳේ. ළිඳේ වතුර ටික ගත්තොත් ඊට වැඩිය වතුර තියෙනවා පොකුණේ. පොකුණේ වතුර ටික ගත්තොත් ඊට වැඩිය වතුර තියෙනවා ඇලේ. ඊට වැඩිය වතුර තියෙනවා නදියේ. නදියට වැඩිය වතුර තියෙනවා පංච මහා ගංගා වල. ඊට වැඩිය වතුර තියෙනවා සාගරයේ. ඊටවැඩිය වතුර තියෙනවා මහාමේරුව සහිත මේ සකල මහා සාගරයේ. ඉතින් සකල මහා සාගරය දිහා බලනකොට අර දෝතේ තියෙන වතුර ටික කොච්චර පුංචි ද? ඒ වාගේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අනන්ත අප්‍රමාණ ගුණස්කන්ධය ඉදිරියේ සීලය විතරක් අරගෙන ගුණ කියන්න ගියාට පස්සෙ ඒක අල්පමාත්‍ර දෙයක්. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා කොහොමද මේ ධර්මය බාහිර කෙනෙකුට බුදුගුණ කියන්න ගියාම මොනවද කියන සීලය. සීලය තමයි කියනවා, ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ සත්තු මරන්නෙ නෑ කියලා සීලය ගැන කියනවා. ප්‍රාණඝාතයෙන් වැළකිලා ඉන්නෙ. සොරකමින් වැළකිලා, මේකෙ විස්තර කරනවා පින්වතුනි. දැන් ප්‍රාණඝාතය කියන එක විස්තර කරනවා, පාණාතිපාතං පහේ පාණාතිපාතං පටිගතෝ සමනෝ ගෝතමෝ, ප්‍රාණඝාතයෙන් වැළකිලා ප්‍රාණඝාතයෙන් වෙන්වෙලා වාසය කරන්නෙ. නිහිතදණ්ඩෝ, දඬුමුගුරු අත්හැරලා, නිහිතඅත්තෝ, ආයුධ අත්හැරලා, ලජ්ජී සත්තු මරන්න ලැජ්ජයි, දයාපන්නෝ සත්ත්වයන් කෙරෙහි දයාහිතානුකම්පියි, සබ්බපානභූත හිතානුකම්පී විහරති, සියලු ප්‍රාණභූතයන් කෙරෙහි හිතානුකම්පීව වාසය කරනවා. ඉතිවාහේ භික්ඛවේ පුතග්ජනෝ තථාගතස්ස

වන්නං වදමාන වදෙයය, ඉතින් තථාගතයන් වහන්සේ සත්තු මරන්නෑ කියලා කියනවා නම් ඒක බුදුගුණත් එක්ක සීලමාත්‍රයක්. ඒක ඉතින් ධර්මය අවබෝධ නොකරපු කෙනෙකුට උනත්, පිට මනුස්සයෙකුට වුනත්, ශාසනේ ගැන දන්නැති කෙනෙකුට වුනත් කියන්න පුලුවන් එකක්, බුදුගුණයක්. බුදුරජාණන් වහන්සේ සත්තු මරන්නෑ කියලා. ඊටපස්සෙ හොරකම් කිරීම, හොරකම් කරන් නෑ කියලා, ඊළඟට අබ්‍රහ්මචරියං පහාය, අබ්‍රහ්මචාරී බව අත්හැරලා බ්‍රහ්මචාරී වෙලා ඉන්නවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ, ආරාචාරී විරතෝ මේතුනා ගාම ධම්මෝ, මෛථූන්‍ය සේවනය කියන ලාමක දෙයින් ඈත්වෙලා බ්‍රහ්මචාරීව ඉන්නවා කියලා ධර්මය අවබෝධ නොකරපු කෙනෙකුට වුනත් කියන්න පුලුවන් කිව්වා, පෘථග්ජනයා එහෙම කියනවා කිව්වා. හැබැයි ඒක බුදු ගුණ කියන එකේ අල්පමාත්‍ර දෙයක් කිව්වා. ඊටපස්සෙ තථාගතයන් වහන්සේ බොරු කියන් නෑ, කේලම් කියන් නෑ, පරුෂ වචන කියන් නෑ, සම්ප්‍රප්පලාප කියන් නෑ, ඊටපස්සෙ තථාගතයන් වහන්සේ, භූතගාම, දැන් මේක විස්තර කරනවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ පැළවෙන බීජ හා පැළවුනු ගස්කොළං විනාශ කිරීමෙන් වැළකී සිටින කෙනෙක්. එක් වරුවේ බොජුන් වළඳන කෙනෙක්. රාත්‍රී ආහාරයෙන් වැළකී විකාල භෝජනයෙන් වැළකී සිටින කෙනෙක්. නැටුම් ගැයුම් වැයුම් හා විසූක දර්ශනයන් නැරඹීමෙන් වැළකී සිටින කෙනෙක්. මල් සුවඳවිලවුන් දැරීමෙන්, ඇඟපත සැරසීමෙන්, විසිතුරු වස්ත්‍රාභරණ වලින් සැරසීමෙන් වැළකී සිටින කෙනෙක්. ප්‍රමාණය ඉක්මවන වටිනා සුඛෝපභෝගී ආසන පරිහරණයෙන් වැළකී සිටින කෙනෙක්. මිල මුදල් පරිහරණයෙන් වැළකී සිටින කෙනෙක්. අමු මස් පිළිගැනීමෙන් වැළකී සිටින කෙනෙක්. ස්ත්‍රීන් කුමරියන් පිළිගැනීමෙන්, දැසි දස්සන්, එළුවන්, බැටළුවන්, ඌරන්, අසුන්, වෙළඹුන්, කෙත්වතු ශ්‍රමණ ගෞතමයන් වහන්සේ පිළිගැනීමෙන් වැළකී ඉන්න කෙනෙක්. ඒ වගේම ගිහියන්ගේ කටයුත්තක් වන දූත මෙහෙවරින් වැළකී සිටින කෙනෙක්. වෙළහෙළදාම් කිරීමෙන් වැළකී සිටින කෙනෙක්. තරාදියෙන් වංචා කරන ඒවා, මිනුම් වලින් වංචා කරන ඒවා ඒ සියල්ලගෙන් වැළකී සිටින කෙනෙක්. අල්ලස් ගෙන හිමිකරුවන්ගේ දේ අහිමි කිරීම, වංචා කිරීම, බාල දේ වටිනා දේ හැටියට පෙන්වා දීම ආදී වංචනික දේවලින් වැළකී සිටින කෙනෙක්. මංපැහැරීම්, ගම්පැහැරීම් මේ මොකවත් වත් කරන් නෑ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ හරී සිල්වත් කියලා ධර්මය අවබෝධ නොකරපු කෙනෙකුට වුනත් කියන්න පුලුවන් කිව්වා. ඒක බුදුගුණත් එක්ක අල්පමාත්‍රයි. ඊටපස්සෙ ගස්කොළන් කැපීමෙන් වැළකී සිටිනවා.

ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ රැස් කරගෙන වැළඳීමෙන් වැළකී වාසය කරනවා. ඉතින් ඒක බාහිර කෙනෙකුටත් බලලා කියන්න පුලුවන් කිව්වා. පෘථග්ජනයෙකුට වුනත්. ඊටපස්සෙ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ විසූක දස්සන වලට නැටුම් ගැයුම් වැයුම් විසූක දස්සන එක එක දේවල් බලන්න යන්නෙ අස්පොර, ගොන්පොර ආදී දේවල්, ඒ ඔක්කෝගෙන්ම වැළකිලා වාසය කරනවා කියනවා. ඊටපස්සෙ ශ්‍රද්ධාවෙන් දුන්නු දේවල් වළඳලා ඉස්සර ශ්‍රමණ බ්‍රාහ්මණයෝ සූදු කෙළලා තියෙනවා. දැන් ඒ කාලෙ තිබ්බ සූදු බලන්න. හතරැස් කොටු අටකින් යුතුව කරන සූදුව, කොටු දහයකින් යුතුව කරන සූදුව, අහසේ රුව අඳිමින් කරන සූදුව, කොටු පැනීමෙන් කරන සූදුව, සත්තික නම් වූ සූදුව, දාදු කැටයෙන් කරන සූදුව, කල්ලි ගැසුම, බූරුවා ගැසුම, ගුල කෙළිය, කරණම් ගැසීම, නලා පිඹීම, මුගුරක් ගෙන උඩ යට වැටෙන පරිදි උඩට ගැසීම, කොළවලින් ගොටුවලින් තරඟෙට වැලි මැනීම, මේ ආදී වශයෙන් ගොඩාක් නම් තියෙනවා ඒ කාලෙ තිබ්බ සූදු කෙළි. ඉතින් සමහර ශ්‍රමණ බ්‍රාහ්මණයෝ ඕවත් කරනවා. ඉතින් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මේවා කරන් නෑ. හරී සීලවන්තයි කියලා මේ බාහිර තාපසයෙක්ට වුනත් පෘථග්ජනයෙකුට කියන්න පුලුවන්. හැබැයි ඒක බුදු කෙනෙක්ගේ ගුණ ඉදිරියේ අල්පමාත්‍රයි. ඊටපස්සෙ උච්චාසයන මහාසයනා ඒවාගෙන් වැළකී වාසය කරනවා. ශ්‍රද්ධාවෙන් දුන්නු දේවල් වළඳලා දේවරූපං මණ්ඩන වීභූෂනට්ඨානුයෝගං අනුයුත්තාවිහරති, මේ ආකාරයෙන් සැරසෙනවා, ඇඟේ තෙල් ගානවා, ඊළඟට සිරුර සිනිඳු කරනවා, තෙල් වර්ග ගාලා සම්බාහනය කරලා සිරුර හැඩ කරනවා, සුවඳ පැන් නානවා, උරහිස් ආදියේ මස් වැඩීමට මුගුරෙන් තලනවා, කැඩපතෙන් මූණ බල බලා ලස්සන වෙනවා, ඒවාගේ ගොඩාක් විස්තර තියෙනවා ඇඟ ලස්සන කරගන්න. ඒවා එකක්වත් බුදුකෙනෙක් කරන්නෙ නෑ. ඉතින් ඕක ලෝකෙ පැතිරිලා තියෙන දෙයක්, ධර්මය අවබෝධ නොකරපු කෙනෙකුටත් කියන්න පුලුවන් ඒක බුදුගුණයක් විදියට. හැබැයි ඒ සීලය ගැන කියන අල්පමාත්‍ර වර්ණනාවක්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා ශ්‍රද්ධාවෙන් දුන්නු දේවල් වළඳලා තිරිසන් කතාවෙන් යුක්ත වෙනවා, දෙතිස් කතා, රජ කතා, චෝර කතා, ඉත්තිකතා, පුරුෂ කතා, රජවරු ගැන, දේශපාලනය ගැන, ස්ත්‍රීය, භූත වීත ඕවා ගැන කතා කර කර ඉන්නවා. එතකොට ශ්‍රමණ බ්‍රාහ්මණවරු වෙන වැඩක් නෑ, ඔය දෙතිස් කතාවෙන් වාසය කරනවා. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මේ කිසිම දෙයක් නෑ නෙව කියලා ලෝකයා කතා වෙනවා. හැබැයි ඒක සීල මාත්‍රයක්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා සමහර ශ්‍රමණ

බ්‍රාහ්මණවරු ශ්‍රද්ධාවෙන් දුන්නු දේවල් වළඳලා වාද විවාද කතා කර කර ඉන්නවා. උඹලා මේවා දන්නවාද, මමයි මේවා දන්නෙ කියලා, වාද විවාද තර්ක විතර්ක දැනුම් මිනුම් මෙවගේ වාසය කරනවා. බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ තර්ක විතර්ක නෑ. බුදුරජාණන් වහන්සේ ලෝකෙත් එක්ක වාද කරන්නෙ නෑ. නමුත් ලෝකයා බුදුරජාණන් වහන්සේත් එක්ක වාද කරන්න එනවා. ඒකයි බුදුරජාණන් වහන්සේ ළඟට වාද කරන්න කියලා ආවනේ අසූර. අසූර බුදුරජාණන් වහන්සේත් එක්ක වාද කරන්න ආවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඉන්න තැනට ආවා. ඉදගත්තට පස්සෙ කතා කරගන්න බැරිව ගියා. බුදුරජාණන් වහන්සේ වදාළා අසූර, ගුස්ති අල්ලන මිනිස්සුත්, මල්ලව පොර කරන මිනිස්සු තවත් එකෙක් ඇදගෙන පොර බදන්නමයි බලන්නෙ. එතකොට ඒ වාගේ වාදෙන් පොරබදන්න ඔබ දැන් මෙතෙන්ට ආවා. මතක තියාගන්න කිව්වා මේ බුද්ධ ශාසනේ ගුස්තිකාරයො නෑ. මෙහේ පොර බදින කට්ටිය නෑ. ඒ නිසා අසූරට ගුස්ති අල්ලන කෙනෙක් හොයාගෙන යන්න කිව්වා. බුදුරජාණන් වහන්සේ ලෝකෙත් එක්ක විවාද කරන් නෑ, එක සූත්‍රයක් කියන්න බලන්න බුදුරජාණන් වහන්සේ විවාද කරපු එකක්. සච්චකලනෙ උඩදාගෙන ආවෙ. ඊටපස්සෙ මේ එක එක්කෙනානෙ බුදුරජාණන් වහන්සේ ඉදිරියේ වාද විවාද හදාගෙන තර්ක විතර්ක හදාගෙන ආවෙ. බුදුකෙනෙක් ඒවා කරන් නෑ. හැබැයි ඉතින් වාද විවාද නැතිව ඉන්නවා කියන එකත් සීලයක්. ලෝකයා ඒක කතා කරනවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ඕවා කරන්නෑ කියලා. හැබැයි ඒක සීල මාත්‍රයක්. බුදුරජාණන් වහන්සේ දේශනා කලා ශ්‍රද්ධාවෙන් දෙන දානෙ වළඳලා මේ ලෝකෙ සමහර අය පණිවිඩ අණපණත් ගෙන යනවා. මෙතන තියෙන ඒවා අතෙන්ට ගිහිල්ලා, රජවරුන්ගේ ඇමතිවරුන්ගේ පණිවිඩ අරන් යනවා, තැපැල් සේවය. සමහර ශ්‍රමණ බ්‍රාහ්මණවරු. ඉතින් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මේ ගිහියන්ගේ කාගෙවත් පණිවිඩ එහෙ මෙහෙ අරන් යන් නෑ, කොයිතරම් හොඳ සීලයක්ද කියලා ලෝකයේ අය කතා වෙනවා. ඒක සීලමාත්‍රයක්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා සමහර ශ්‍රමණ බ්‍රාහ්මණවරු ශ්‍රද්ධාවෙන් දුන්නු දේවල් වළඳලා කුහනා ලපනා නීමිත්තකා කුහන ලපන, උඩින් වෙන එකක් පෙන්නලා යටින් වෙන එකක්, ලාභ සත්කාර ලැබෙන විදියට පුහු වර්ණනා, තොදොල් වර්ණනා චාටු බස් කියලා දායකයින් රවටලා මේ විදියට ජීවත් වෙනවා. ඉතින් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මෙහෙම ජීවත් වෙන්නෑනෙ කියලා මාත්‍රයක්, සීල මාත්‍රයක් ලෝකයේ අය කතා කරනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඒ

වුනාට ඒ වාගේ දේවල් ඉතිවාහි භික්ඛවේ පුතග්ජනෝ තථාගතස්ස වන්නං වදමාන වදෙය්‍ය, පෘථග්ජනයාටත් ඕක කියන්න පුලුවන් කිව්වා, බුදුගුණ විදියට. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා සමහර ශ්‍රමණ බ්‍රාහ්මණයෝ දැන් ඔය කිව්ව සීලය මජ්ඣිම සීලය, සමහර ශ්‍රමණ බ්‍රාහ්මණයෝ ශ්‍රද්ධාවෙන් දුන්නු දේවල් වළඳලා මේ විදියට තිරස්චාන විද්‍යාවෙන් යුක්තව වාසය කරනවා. මේවා කියවනකොට පින්වතුනි මේ බුද්ධ කාලයේ බුදු කෙනෙක් පහළ වෙලා ධර්මය දේශනා කිරීම ආශ්චර්යයියි කියලා හිතෙනවා. මං ඒක කියන්නම්. මොනවද ඒ කාලෙ තිබ්බ විද්‍යාවල් කියලා. ඒ කියන්නෙ ශාරීරික අංග බලලා පලාඵල කියනවා. නිමිති බලලා පලාඵල කියනවා. උල්පාත බලලා පලාඵල කියනවා. සිහින පලාඵල කියනවා. ශාරීරික ලක්ෂණ බලලා පලාඵල කියනවා. මීයො කෑ වස්ත්‍ර බලලා සාස්තර කියනවා. ගිනි පූජා පවත්වනවා. හැන්දෙන් පූජා පවත්වනවා. ධාන්‍ය පොතු වලින් පූජා පවත්වනවා. කණ නම් වූ සහලින් පූජා පවත්වනවා. සහල් වලින්, ගිතෙල් වලින්, තලතෙල් වලින් පූජා පවත්වනවා. විශේෂ පූජා පවත්වනවා. සතුන් මරලා ලේ පුදලා පූජා තියනවා. අංග විද්‍යාව, වාස්තු විද්‍යාව, දේශපාලන විද්‍යාව, වාසනාව උරගා බලන ඒවා ලොතරැයි වගේ, ඊළඟට භූත විද්‍යාව, පොළොව යට බිංගේක ඉඳලා මැතිරීමෙන් කරන භූමි විද්‍යාව, සර්ප විද්‍යාව, විෂ වෛද්‍ය විද්‍යාව, වෘශ්චික විද්‍යාව, මූසික විද්‍යාව, පක්ෂි විද්‍යාව, විශාල පක්ෂි විද්‍යාව, ඉදුනු දේ මුල් කරගෙන අනාවැකි කීම, මතුරන ලද ඊතලයට විද ආරක්ෂා කරන විද්‍යාව, මුග පක්ෂ යනාදී මුග ප්‍රශ්නයන් මුල් කරගෙන කරන විද්‍යාව, මේ වාගේ නොයෙක් විද්‍යාවන්. මේ වාගේ ඒවා අද ලංකාවේ තිබ්බා නම් කොහොමද? මේ බුද්ධ කාලෙ තිබ්බ ඒවා. එකක්වත් බුදුරජාණන් වහන්සේ කරන් නෑ, ශ්‍රාවක සංඝයා කරන් නෑ. තව කියන්නම් පින්වතුනි, ඒ කාලෙ තිබුනු ඒවා. තව තියෙනවා, මැණික් වල සුභ අසුභ කියන විද්‍යාවක් තිබිලා තියෙනවා. ඊළඟට දඬුවල සුභ අසුභ කීම, වස්ත්‍ර වල සුභ අසුභ - සුදු ඇන්දොත් මෙහෙමයි, රතු ඇන්දොත් මෙහෙමයි ඒ වගේ. ඊළඟට කඩු ආදී සළකුණු වලින් සුභ අසුභ කීම, ඊතල වල සුභ අසුභ කීම, දුනු වල සුභ අසුභ කීම, ආයුධ වල සළකුනු වලින් සුභ අසුභ කීම, ස්ත්‍රීන්ගේ හැඩහුරුකමින්, නාරිලක්ෂණ වලින්, ඊටපස්සේ පුරුෂයන්ගේ හැඩ හුරුකමින්, ඊළඟට දරුවන්ගේ හැඩහුරුකමින්, දැරියන්ගේ හැඩහුරුකමින්, දාසයන්ගේ හැඩහුරුකමින්, දාසියන්ගේ හැඩහුරුකමින්, ඒ ඒ කටයුතු තෝරාගත යුතු ඇතුන්ගේ ලක්ෂණ, අසුන්ගේ ලක්ෂණ, ඔටුවන්ගේ, වෘෂභයන්ගේ, ගවයන්ගේ, බැටළුවන්ගේ, කුකුළන්ගේ, සුහුනන්ගේ, සුහුනන් ඇඟවැටීමේ පලාඵල, ඊළඟට

වටුවන්ගේ ලකුණු කීම, කණෙහි පළඳාගත් උපකරණ වල පලාඵල, කැස්බෑවන්ට මතුරා පලාඵල කීම, ඔය පොල්වලට මතුරලා කරකවන්නෙ කනප්පු මතුරලා නටවන්නෙ ඒ වගේ කැස්බෑවන්ට මතුරලා ඒ කාලෙ කරලා තියෙනවා. මුවන්ට මතුරා පලාඵල කීම, ආදී තිරශ්චීන විද්‍යා. මේ බුද්ධ කාලෙ තිබ්බ ඒවා. අද කාලෙ තිබ්බොත් කොහොම වෙයිද, අද කාලෙ යාන්තම් දේවාල දෙක තුනක් තියෙනවා, සාස්තර පොළවල් දෙක තුනක් තියෙනවා, නැකැත් කේන්දර බලන තැන් ටිකක් තියෙනවා, ඔය ටිකනෙ. අඳුන් බලන තැන් ටිකක් තියෙනවා, එච්චරයිනෙ. මෙච්චර ගොඩක් තියෙනවාද, මෙච්චර ගොඩක් තිබ්බ කාලෙක බුදු කෙනෙක් පහළ වුනේ. එතකොට මේ කිසිවකට යන්නැතිව මේ ඔක්කොම ටික අත්හැරලා තිසරණ සරණට ඇවිල්ලා අමා මහ නිවන් දැක්කානෙ. දැන් අපි ගත්තොත් පිටරටකට ගියොත් පිටරට අයටත් මේවා නෑනෙ, ලංකාවෙනෙ දේවාලයි අරවයි මේවයි තියෙන්නෙ. පිටරට ගියාට පස්සෙත් කොහොමහරි ඒවා නැතිව, දේවාල එහෙ නැතිව මෙහෙන් සෙට් වෙනවා. ෆෝන් එකෙන් සෙට් වෙනවා, ෆෙස්බුක් එකෙන් සෙට් වෙනවා. මේ පිටරට ඉඳලා. පිටරට ඉඳලා මෙහෙ කෙනෙක්ගෙන් කේන්දරේ බලාගන්නවා. මේ බුද්ධ කාලෙ තිබ්බ විද්‍යාවල්. තව තියෙනවා. ඒකෙ තියෙනවා අහවල් නැකතට රජතුමාගේ යුද පිණිස නික්මීම වන්නේය, එතකොට මේ නැකතින් තමයි රජ්ජුරුවෝ යන්න ඕන යුද්දෙට එන්න ඕන මේකයි කියලා අසවල් නැකතට රජතුමාට ජය වෙනවා, පරාජය වෙනවා කියලා රජතුමාට අයිති, රජතුමා යන්න ඕන විදිය, එන්න ඕන විදිය, අඳින්න ඕන ආභරණ, පළඳින්න ඕන ආභරණ, කඩුව ගන්න ඕන විදිය, ඔක්කෝටම නැකැත් හදනවා. මේ බුද්ධ කාලෙ තිබිලා තියෙනවා. ඒ ඔක්කොම බුදුරජාණන් වහන්සේ අත්හැරපු ඒවා. එතකොට මේවා ඔක්කොම අතහැරලා ශාසනයට එන්න තරම් ඒ කාලෙ ශ්‍රාවකයෝ කොච්චර විමුක්තියක් හොයාගෙන ගියාද. මේ කියන්නෙ මේ ඔක්කෝම ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අත්හැරියා. කොච්චර හොඳද කියලා අශ්‍රැතවත් පෘථග්ජනයා කියනවා. ඒ කියන එක සීල මාත්‍රයක්. ඒ බුදුගුණ ඉදිරියේ පින්වතුනි මේක. මේ බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ මේ අශ්‍රැතවත් පෘථග්ජනයන්ට පවා මේවා කියන්න පුලුවන්. ඒ වුනාට බුදු කෙනෙක්ගේ ගුණ කියන එක, ඒක සාමාන්‍ය කෙනෙකුට කියන්න අමාරුයි කියලා බුදු ගුණ ටික කියනවා. එතකොට සාමාන්‍ය කෙනෙකුට කියාගන්න බැරි, හිතාගන්නවත් බැරි බුදු ගුණ කඳ මොකක්ද කියලා මේ දේශනාවෙ තියෙනවා. මේ දේශනාවෙ තමයි ශ්‍රමණ මත හැට දෙකක් මිත්‍යා දෘෂ්ටීන්

පටලැවුනා මේ සත්ත්වයා, ඒ කාලෙ තිබ්බා ආගම් හැට දෙකක්. ඒ ආගම් හැට දෙකම මේකෙ තියෙනවා. එතකොට ඒ නිසා අපි ඒ සියලුම ආගම්, ඒ වගේම අදටත් ලෝකෙ ආගම් තියෙනවාද ඒ සියලු ආගම් හැදුනු විදිය මේ දේශනාවේ තියෙනවා. මීට අවුරුදු දෙදහස් හයසීයකට කලින් බුදුරජාණන් වහන්සේ ලෝකෙ ආගම් හැදෙන විදිය දේශනා කලා. මේ ලෝකෙ යම්තාක් මේ මනුස්ස වර්ගයා ආරම්භ වෙලා මේ පෘථිවියේ පළවෙනි මනුස්සයා හැදිච්ච දවසේ ඉඳලා කොහොමද මනුස්සයන්ගේ ජීවිත වලට ආගම් හැදුනේ කියලා මේ දේශනාවෙ තියෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේගේ ඥාණය ආශ්චර්යයි අද්භූතයි. ඒකයි සක්වල වල් දාහක්, දහසක් සක්වල වල් කම්පා වුනා මේ දේශනාව දේශනා කරන වෙලාවෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ තව ඒ ආගම් පිළිබඳ විස්තරයට ආවෙ නෑ. තවම මේ කියන්නෙ බුදුරජාණන් වහන්සේ පෘථග්ජනයාට පුලුවන් මේ විදියට විස්තර කියන්න. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා, මේ ලෝකයේ ශ්‍රමණ බ්‍රාහ්මණවරු ඉන්නවා ශ්‍රද්ධාවෙන් දුන්නු දානෙ වළඳලා මේ තව තිරශ්චීන විද්‍යාවල් වල යෙදී වාසය කරන, බලමු ඒ කාලෙ තිබ්බ තවත් විද්‍යාවල්. ඒ තමයි විවාහයට නැකැත් කියනවා, ආවාහයට නැකැත් කියනවා. අඹු සැමියන් එක් කිරීමට නැකැත් කියනවා. අඹු සැමියන් වෙන් කිරීමට නැකැත් කියනවා. දීපු ණය ගන්න, ඊළඟට ණය දුන්නට පස්සෙ ආයෙ ඉල්ලන්න බැරිවෙන්න නැකැත් හදනවා. තියුණු ගුරුකම්, පාළුවී නැතිවීමට ගුරුකම්, දරුගැබ් රැකෙන්න ගුරුකම්, දිවඅගුළු බැදෙන්න ගුරුකම්, හනු තද කරන්න ගුරුකම්, අත් පෙරලන්න ගුරුකම්, හනු හිරවෙන්න ගුරුකම්, කන්අගුළු වැටෙන්න ගුරුකම්, කණ්ණාඩියෙන් භූතයන් කැඳවලා ප්‍රශ්න අහන ඒවා, ගෑණු දරුවන් ලවා පේන කියන ඒවා, දෙවියන් ලවා පේන කියන ඒවා, සූර්‍ය වන්දනා, මහාබ්‍රහ්ම වන්දනා, මන්ත්‍ර බලයෙන් කටින් ගිනිදැල් පිටකිරීම, මන්ත්‍ර බලයෙන් ලක්ෂ්මී පූජා කිරීම, මේ ආදී වශයෙන් තිරිසන් විද්‍යාවෙන් ජීවත් වෙනවා. ඒ කාලෙ මන්ත්‍ර බලයෙන් කටින් ගිනි පිට කලා. කොච්චර විද්‍යාවල් ද, ඒ ඔක්කොම අත්හැරලා. මේ බුද්ධ කාලෙ තිබ්බ ඒවා. ඒ කාලෙ බන්ධාරීමනකාළී විද්‍යාව තිබ්බා මන්ත්‍ර බලයෙන් අහසින් යනවා, ගන්ධාරී විද්‍යාව. මන්ත්‍රබලයෙන් ආකාශෙන් යනවා. දැන් පිලින්දවච්ඡ මහරහතන් වහන්සේ පැවිදි වෙන්න කලින් ආකාසෙන් ගිය කෙනෙක්. ඇයි මේ ගන්ධාරී කියන විද්‍යාවෙන්. එතකොට එයා ආකාසෙන් යනකොට බුදුරජාණන් වහන්සේ යම් දවසක රජගහනුවරට ආවාද, එදා ඉඳලා එයාට අහසින් යන්න බෑ. එතකොට එයා ඒ මන්ත්‍ර විද්‍යාවෙන් හොයලා හොයලා බලනකොට

හොයාගත්ත ක්‍රමයක් තමයි, යම්කිසි කෙනෙක් මහා ගන්ධාරී විද්‍යාව දන්නවා නම්, චූල ගන්ධාරී විද්‍යාව දන්න කෙනෙකුට අහසින් යන්න බෑ කියලා. එයා හිතුවා බුදුරජාණන් වහන්සේ ගාව මහා ගන්ධාරී විද්‍යාව තියෙනවා කියලා. එයා බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා කිව්වා මහා ගන්ධාරී විද්‍යාව මට ඕන කියලා. හා දෙන්නම් කිව්වා, මොකක්ද කරන්න ඕන කියලා ඇහුවා. අපි වගේ මහණ වෙන්න ඕන කිව්වා. මහණ වුනා. ඊටපස්සෙ සීලය දුන්නා, ධර්මය දුන්නා, තිසරණය දුන්නා, අර ඔක්කොම අත්හැරලා හිතේ බලයෙන් අහසින් ගියා. ඔක්කෝම අත්හැරියනේ. ඉතින් ඒ නිසා ඒ කාලෙ බුද්ධ ශාසනේට ඔක්කොම අත්හැරලා ආවා. අද මෙහෙන් යනවා. මේ සසර පුදුම එකක්. ඉතින් ඒ නිසා, බුදුරජාණන් වහන්සේගේ කාලෙ, ඉතින් මේකයි කිව්වෙ යුග දෙකක්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ, බුදුරජාණන් වහන්සේ මේ ඔක්කොගෙන්ම වැළකී වාසය කලා. ඉතින් ලෝකය ඒක කතා වෙනවා. ඉතින් තව මේ ඒ කාලෙ තිබ්බ ඒවා තියෙනවා. බලන්න ඒ බුද්ධ කාලෙ තිබ්බ ඒවා. ඒ කියන්නෙ ශාන්තිකර්ම, භාර ඔප්පු කිරීම, පොළොව යටින්ද මතුරා ගුරුකම් කිරීම, නපුංසකයා පිරිමියෙකු කිරීම, පිරිමියා නපුංසකයකු කිරීම, ගෙවල් ගැනීමේ දිශාව පෙන්වා දීම, අලුතෙන් නිවාස තැනීමේදී පුදපූජා පැවැත්වීම, වතුර මතුරා මූණ සේදවීම, වතුර මතුරා නැහැවීම, ගිනි පිඹීම, ලය විරේක, බඩ විරේ, වමනය කරවීම, වස්ති කරවීම, සියසි විරේක, කනට තෙල් පිඹීම, ඇස් වෙදකම, නස්න කිරීම, ඇස් වලට අඳුන් සෑදීම, ප්‍රතිඅංජන සෑදීම, ශල්‍යකර්ම කිරීම, ළදරු චිකිත්සාව, කාය චිකිත්සාව, වණ වලට බෙහෙත් සෑදීම, මෙන්න ඒ කාලෙ තිබිලා තියෙන ඒවා. ඒ කාලේ විමුක්තියක් හොයාගෙන ගිහිල්ලා ශ්‍රමණ බ්‍රාහ්මණයෙක් විදියට මේවා තමයි කර කර ඉඳලා තියෙන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ තමයි ඒ ඔක්කොම අතහැරලා ඒ අතෑරීම සීලයකට එන්නෙ. බලන්න යම්කිසි තිරශ්චාන විද්‍යාවක් අත්හැරීම එයාගේ මහා සීලයක් කියනවා. ඉතින් නමුත් බුදුරජාණන් වහන්සේ වදාළා ඉදං කෝ තං භික්ඛවේ අප්පමත්තකං ඕරමත්තකං සීලමත්තකං යේන පුතග්ජනෝ තථාගතස්ස වන්නං වදමානං වදෙය්‍ය, පින්වත් මහණෙනි, බුදුරජාණන් වහන්සේගේ තථාගතයන් වහන්සේගේ ගුණ කියතොත් කියනවා නම් ඒ අය මේ වගේ දෙයකින්, අල්පමාත්‍ර දෙයකින්, ස්වල්ප දේකින්, සීල මාත්‍රයකින් තමයි ලෝකෙ මිනිස්සු බුදුගුණ කියන්නෙ. මේ පෘථග්ජන මිනිස්සු ධර්මය අවබෝධ නොකරපු අය. අත්ථි භික්ඛවේ අඤ්ඤෙව ධම්මා ගම්භීරා, පින්වත් මහණෙනි ඒ වුනාට තියෙනවා තව වෙනත් ධර්මයෝ ගම්භීරයි. දුද්දසා, දකින්න අමාරු.

දුරනුබෝධා, අවබෝධ කරන්න අමාරු. සන්තා, ඒත් ශාන්තයි. පනීතා, ප්‍රණීතයි. තතක්කාවචරා, තර්කයට ගොදුරු වෙන්නැති. නිපුණා, දක්ෂ, පණ්ඩිතවේදනියා, නුවණැත්තන් විසින් දැනගත යුතු, යේ තථාගතෝ සයං අභිඤ්ඤා සච්චිකත්වා පවරේදේති, ඒ වගේ දේවල් බුදුරජාණන් වහන්සේ අවබෝධ කරගෙන දේශනා කරනවා, ස්වයංභූත් ඥාණයෙන්. කාටවත් අවබෝධ කරගන්න අමාරු, හිතාගන්නවත් බැරි දේවල්. යේහි තථාගතස්ස යථාභූච්චං වන්නං සම්මානෝ වදමානං වදෙය්‍ය, අන්න ඒවා ගැන කවුරුහරි කියනවා නම්, ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේ අවබෝධ කරගත්ත ධර්මය ගැන කවුරුහරි කියනවා නම් බුදුරජාණන් වහන්සේගේ ඥාණය ගැන කවුරුහරි කියනවා නම් අන්න ඒකනම් බුදුගුණ කීමක් තමයි කියනවා. ඊටපස්සේ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා කතමේච භික්ඛවේ ධම්මා ගම්භීරා දුද්දසා, මොනවද ඒ? ධර්මය අවබෝධ කරන්න අමාරු, ශාන්ත, ප්‍රණීත, තර්කයට ගොදුරු වෙන්නැති, දක්ෂ නුවණැත්තන් විසින් දැනගත යුතු, බුදුරජාණන් වහන්සේ ස්වයංභූත් ඥාණයෙන් අවබෝධ කරපු තථාගතයන් වහන්සේගේ ගුණ කියනවා නම් ඇත්තටම කියන්න ඕන ගුණ ටික මොනවද කියලා අහනවා. මනාකොට කියනවානම්. ඔන්න දැන් තමයි පින්වතුනි බුදුගුණ, දැන් තමයි බුදුරජාණන් වහන්සේ ගැන හිතාගන්න බැරි බුදුගුණ කියන්නෙ. කියනවා සන්තිභික්ඛවේ ඒකෙ සමණබ්‍රාහ්මණා පුබ්බන්තකප්පිකා, පුබ්බන්තානුදිට්ඨිකෝ, පුබ්බන්තංආරබ්බා අනේකවේතානි අභිවුත්තිපදානි අභිවදන්ති යත්ථා රසානි වත්තෝහි, පින්වත් මහණෙනි, මේ ලෝකයේ ශ්‍රමණ බ්‍රාහ්මණයින් ඉන්නවා මේ අතීත ජීවිත වල කෙළවරක් කල්පනා කරලා කෙළවරක් ගැන හොයලා ඒ තුළින් මතවාද හදාගන්නවා. ඒ තුළින් මතවාද හදාගෙන අතීත ජීවිත අරඹයා මතවාද ප්‍රකාශ කරනවා. අතීත ජීවිතය පිළිබඳව කල්පනා කරලා අතීත ජීවිතය ගැන මතවාද ගොඩනගාගෙන ශ්‍රමණබ්‍රාහ්මණවරු ඔය ආකාරයට ප්‍රකාශ කරන මතවාද තියෙනවා දහ අටක්. ඔන්න දැන් ආගම් දහඅටක්, ඉස්සෙල්ලාම කොටසේ ආගම් දහ අටක් විස්තර කරනවා. කොහොමද මේ ලෝකෙ ආගම් කියන ඒවා හැදෙන්නේ කියලා. ඔන්න බලන්න හොඳට නුවණින්, පින්වතුනි මේක කලින් අහලා නැති අපි නිතර පාවිච්චි නොකරන විස්තරයක් නිසා මේක සිහිබුද්ධියෙන් අහගන්න. පින්වත් මහණෙනි, ඒකේ සමණබ්‍රාහ්මණා සස්සතවාදා, මේ සමහර ශ්‍රමණබ්‍රාහ්මණයින් ඉන්නවා සාස්සෘතවාදීයි. සාස්සෘතවාදී කියන්නෙ සදාකාලික දේවල් තියෙනවා, ආත්මයක් තියෙනවා, සදාකාලිකයි කියන

හැඟීම, වාදය, මතය, දෘෂ්ටිය තියෙන ආගම් තියෙනවා. සදාකාලිකයි ඒවා. ඊටපස්සෙ ඔවුන් තමා ගැනත් ලෝකෙ ගැනත් සාස්වතයි කියලා කියන්නේ කරුණු හතරකින්. මොනවද ඒ කරුණු හතර? මෙන්න මේකයි. ඔන්න ඒ කරුණු හතර. ලෝකය නිත්‍යයයි, සාස්වතයි කියලා අදහස් ලෝකෙ ඇතිවුනු විදිය මේ කියන්නෙ. හොඳට මේක නුවණින් විමසන්න. ඒ තමයි බුදුරජාණන් වහන්සේ දේශනා කලා ඔන්න එක ශ්‍රමණ බ්‍රාහ්මණයෙක් ඉන්නවා. ඒ කියන්නෙ යම්කිසි ආගමික මතයක් ඉදිරිපත් කරන කෙනා. ඉස්සරවෙලාම කෙනෙක් ඉන්නවා. මෙයා මොකද කරන්නෙ? ඉස්සෙල්ලාම හොඳට භාවනා කරනවා. හොඳට හිත සමාධි කරනවා. හිත ධ්‍යාන වලට ගන්නවා. ධ්‍යාන වලට අරගෙන හොඳට හිත පෙර ජීවිත වලට දකින්න යොමු කරනවා. එතකොට එයාට පේනවා ජීවිත එකක්, දෙකක්, තුනක්, හතරක්, ජීවිත තිහක්, මේ විදියට ජීවිත ලක්ෂ ගාණක් ආපස්සට පේනවා. මං කෑවේ මෙහෙම, බිව්වෙ මෙහෙම, ඇන්දෙ මෙහෙම, ඊළඟට මේ වගේ සැපදුක් වින්දා, මම මෙහෙම හිටියේ කියලා ජීවිත ලක්ෂ ගාණක් පේනවා. මෙන්න මේ ආකාරයට මෙයාට පේන්න ගත්තට පස්සෙ මෙයාට හිතට පැහැදිලි වෙනකොට මෙන්න මෙයා මොකද කරන්නේ, මෙයා මතවාදයක් ගොඩනගනවා. මෙයා ලෝකෙට කියනවා ආත්මයත්, ලෝකයත් සදාකාලිකයි. වඳබැහැලා. ඒ කියන්නෙ ආත්මයත් ලෝකයත් සදාකාලිකයි. වඳබැහැලා. වඳබැහැලා කියන්නෙ ඒකෙන් ඇති දෙයක් නෑ, ඇයි මෙයාලා කියනවා, ඒ ආත්මය කියන එක ඒසිකා ස්ථම්භය වගේ නගරයක මැද තියෙන, ඒක හැමදාම තියෙන එකක්. සදාකාලික වස්තුවක්. මොකද මං එහෙම කියන්නෙ මං ජීවිත ආපස්සට බල බලා යනකොට මට පේනවා මේ ලෝකෙ තියෙනවා. ඇයි ඉතින් ගිය ජීවිතේ තිබිලා තියෙන්නෙ කොහෙහරි පෘථිවියේනෙ. ඊට කලින් ජීවිතෙත් පෘථිවියෙනෙ. එක්කො මේ ලෝක සන්නිවාසයෙනෙ. මේ සක්වලනෙ. මේ සක්වල ලෝකය කියන එක සදාතනිකයි, එයා එයාට පේන ජීවිත වල තියෙනවා මේක. අනිත් එක තමයි ගිය ජීවිතේ කවුද ඉපදිලා තියෙන්නෙ, තමන්, වෙන කෙනෙකුත් නෙවෙයිනෙ. එතකොට ආපස්සට ආපස්සට බලනකොට මම කියලා කෙනෙක් මම වෙනස් වෙවී යනවා, ගවයෙක් වෙනවා, ඊළඟ ජීවිතේ කුරුල්ලෙක් වෙනවා, ඊළඟ ජීවිතේ තව මනුස්සයෙක් වෙනවා, ඊළඟට දෙවියෙක් වෙනවා. නමුත් අර දිවැසින් බලන කෙනාට පෙන්නෙ මම තමයි එහෙම ඉපදුනේ. එතකොට මම කියන කෙනෙක් ජීවිතෙන් ජීවිතේට ඉන්නවා. ඒ කියන්නෙ දැන් ඔහොම බැලුවොත් එහෙම ගොඩාක් අයගේ අදහස ඕකනෙ. කලින් ජීවිතේ මම, මම

කියලා එකක්. එතකොට එයාට පේනවා ජීවිත වෙනස් වුනාට ලෝකයක්, සක්වලක් කියලා එකක් තියෙනවා ඒක ස්ථිරයි, මම කියලා එකක් තියෙනවා ස්ථිරයි. අන්න එයා ආගමකට ආවා. ඔන්න තමයි ලෝකය සාස්වතයි, අන්න ඒ සාස්වතයි කියලා එයා ආගමක් බිහි කරනවා. එතකොට යම්කිසි, අපේ බුද්ධ ශාසනය ගත්තොත් අපි සතර සතිපට්ඨානය, ඊළඟට තිසරණය මොනවා කතා කලත් අවසානෙ අපේ ඇතුලේ තියන දර්ශනය අනිත්‍යයයිනෙ, දුකයිනෙ, අනාත්මයිනෙ. ඒ ත්‍රිලක්ෂණයනෙ තියෙන්නෙ. චතුරාර්ය සත්‍යයනෙ අපේ දර්ශනය. මුලු බුද්ධ ශාසනයම සංක්ෂිප්ත කරලා ගත්තට පස්සෙ. එතකොට යම්කිසි ආගමක, ඒ ආගමේ සංක්ෂිප්තයට ගත්තට පස්සෙ ඒ ආගමේ තියෙනවා නම් ආත්මය කියලා එකක්, ලෝකය හෝ තමා හෝ ආත්මයි කියලා එකක් තියෙනවා නම් මෙන්න මේ විදියට තමයි හැදිලා තියෙන්නෙ ඒක. කවුරුහරි කෙනෙක් ඉස්සෙල්ලාම පළවෙනි කෙනා ජීවිතේ ආපස්සට බලලා බලලා එයා බොරුවක් කීවෙ නෑ එයාට පේන දේ කිව්වෙ. පේන දේ. ඒ වුනාට ඔකෙ සිද්ධ වෙන දේවල් ටික දන්නෙ කවුද, බුදුරජාණන් වහන්සේනෙ. ඒකනෙ වෙනස. අරයට ඒවා විනිවිද දකින්න බෑනෙ. ඉපදෙනවා පෙනුනා, ඉපදිච්ච තැන් ටික පෙනුනා. ඊටපස්සෙ ඔක තමයි කිව්වා ඉදං භික්ඛවේ පඨමං ඨානං ආගම්ම යං ආරබ්බිකේ සමණබ්‍රාහ්මණ සාස්වතවාදා සස්සතං කත්තානංච ලෝකංච පඤ්ඤාපෙන්ති. ඔක තමයි පළවෙනි ක්‍රමය මේ ලෝකයේ යම්කිසි කෙනෙක් ඇත කියන දෘෂ්ටියට ඇවිල්ලා තමාත් ලෝකයත් සාස්වතයි ආත්මයක් තියෙනවා කියන තැනට එන්න පළවෙනි ක්‍රමය. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා දෙවැනි ක්‍රමය. දෙවැනි ක්‍රමය තමයි ඔන්න එක්කෙනෙක් ජීවිතේ ආපස්සට බලනවා. එයා බලනවා ජීවිතේ ආපස්සට බලනකොට එයාට පේනවා සංවාය, ජීවිත ලක්ෂයක් නෙවෙයි එයාට මේ කල්පයෙනුත් එහා පේනවා. සංවට්ඨ කල්ප, ඒ කියන්නෙ ලෝකයේ විනාශ වෙවී යන කල්ප, ඊළඟට විවට්ඨ කල්ප, ලෝකය හැදෙන කල්ප. ඒවත් ආපස්සට බලනවා. එහෙම බලනකොට සංවට්ඨ කල්ප එකක් දෙකක් තුනක් හතරක් පහක් හයක් මේ විදියට දහයක් සංවට්ඨ කල්ප දහයක් විතර බලනවා ආපස්සට. ආපස්සට සංවට්ඨ කල්ප දහයක් විවට්ඨ කල්ප දහයක් බලනකොට ඒ කියන්නෙ කල්ප විනාශය ඇතිවෙන, කල්පය හැදෙන ඒවාගේ ඒවා බලනවා ආපස්සට ධ්‍යානයෙන්. ඒ වගේ බලනකොටත් පේනවා ලෝකය විනාශ වුනාට ආයෙ හැදෙනවා. ඒ කියන්නෙ තියෙනවා එකක්, මම මැරුණට ආයෙ ඉපදෙනවා. එහෙම තියෙනවා එකක්. ඔන්න එයත් කියනවා, මම දැක්කෙ මෙහෙමයි. මම දැක්කෙ මෙහමයි

ඒනිසා නිත්‍ය වූ සදාකාලික ආත්මයක් තියෙනවා කියලා එයත් එක ආගමක් බිහි කරනවා. ඔන්න එක ආගමක් බිහි වෙච්චි අනික් ක්‍රමය. ඒ කියන්නෙ අරයටත් වැඩිය දැකලා. ඒ වුනාට ඒකෙත් යථා ස්වභාවය දන්නෙ කවුද? බුදුරජාණන් වහන්සේ. එතකොට මේ ලෝකයේ ආගම් එකපාරටම පින්වතුනි බොරුවටම හැදුන් නෑ, කියන්නෙ මොනවහරි ඒ ආගම බිහි කරපු කෙනා දැක්ක හිතපු දේකට තමයි ආගම බිහි කරන්නෙ. ඊළඟට පින්වත්නි තුන්වෙනි එක්කෙනා, තුන්වෙනි එක්කෙනා මේ ආගම බුදුරජාණන් වහන්සේ දේශනා කලා, ඕක තමයි දෙවෙනි ක්‍රමය. ඊළඟට තුන්වෙනි ක්‍රමය මේ ලෝකයේ කෙනෙක් ආපස්සට හොඳට බලනකොට සංවට්ඨ විවට්ඨ කල්ප තිහ හතළිහ පේනවා. ජීවිත ලෝකෙ කල්ප තිහ හතලිහ පේනවා. ඒකෙත් පේන්නෙ ලෝකයක් හැදෙනවා නැතිවෙනවා, තමනුත් උපදිනවා මැරෙනවා. හැදෙනවා නැතිවෙනවා වුනාට එයාට අනිත්‍යය කියන සංඥාව එන්නෑ. එයාට කියන්නෙ ලෝකය නැතිවුනාට ආයෙ හැදෙනවා. එයත් එනවා ලෝකය නිත්‍යයි, ඊළඟට තමනුත් ආත්මයි කියලා එකක්. දැන් ඔය තුන්වෙනි ක්‍රමය. ඊළඟ හතරවෙනි ක්‍රමය තමයි ඊළඟ එක්කෙනාට පේන්නෑ. ඊළඟට එක්කෙනාට මොකක්ද කරන්න පුලුවන්, එයාට තර්ක කරන්න පුලුවන්. පින්වත් මහණෙනි, ඇතැම් ශ්‍රමණ බ්‍රාහ්මණයින් ඉන්නවා, ඔවුන් තර්ක කරනවා, එක එක විදියට විමසනවා. තර්ක කරමින් කරුණු රැස් කර කර විමසා විමසා තමන්ට වැටහෙන පරිදි කරුණු රැස් කොට මෙහෙම කියනවා, ආත්මයත් ලෝකයත් සදාකාලිකයි. වඳබැහැලා තියෙන්නෙ. ගිරි කුලක් වගේ තියෙන්නෙ. නගරය මැද තිබෙන නොසෙල්වෙන ඒසිකා ස්ථම්භයක් වගේ ඒ සත්ත්වයන්මයි එක එක තැන්වල උපදින්නෙ. භවයෙන් භවයට සැරිසරන්නෙ එක්කෙනෙක් කියනවා. චුතවෙන්නෙත් උපදින්නෙත් සදාකාලික වස්තුවක් වගේ පවතින්නෙත් එක්කෙනෙක්මයි කියනවා. ආත්මයක් කියලා එකක් තියෙනවා. මේ විදියට මෙයා මෙයාගේ දර්ශනය දානවා. දැන් ඔය හතරවෙනි ආගම. පළවෙනි එක මතක තියාගන්න, මේ හතරෙන්ම ආවෙ ආත්මයක් තියෙනවා කියලා. ඒ තමයි ජීවිත ලක්ෂයක් විතර බැලුවා. එතකොට පේනවා එකම ලෝකෙ උපදින්නෙ, තමන් මැරි මැරි උපදිනවා. ඒ කියන්නෙ ඉන්නවා එක්කෙනෙක්. ඊළඟට එක්කෙනා සංවට්ඨ විවට්ඨ කල්ප බැලුවා. ඊළඟ එක්කෙනා සංවට්ඨ විවට්ඨ කල්ප හතළිහක් විතර බැලුවා. ඒත් වෙන්නෙ ඒක. හතරවෙනි එක්කෙනා තර්ක කර කරම ආගම හැදුවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මේ කවුරු වුනත් ඔය සාස්වත දෘෂ්ටියට එන්නෙ ආත්මයක් තියෙනවා ආත්මයි

නිත්‍යයයි කියන තැනට එන්නෙ, යමක් ඇත කියන තැනට එන්නෙ ඔය කාරණා හතරෙන් කියනවා. ඉතින් අවසානෙට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඒ කරුණු හතර විස්තර කරලා පින්වත් මහණෙනි, තථාගතයන් වහන්සේ මේ කාරණය අවබෝධයෙන්ම දන්නවා. මේ අය මේ ආගම් හදාගත්තෙ දෘෂ්ටි හදාගත්තෙ මෙහෙමයි කියලා බුදුරජාණන් වහන්සේ දන්නවා. ඒ කියන්නෙ මේ දෘෂ්ටීන් මේ විදියට ග්‍රහණය කරගත්තොත් මේ විදියට බැදිලා ගියොත් මේ මේ ආකාරයෙන් උපත් ලබාගෙන මරණින් මතු මේ මේ විදියට පරලොව යාවී කියලා තථාගතයන් වහන්සේ මෙයත් දන්නවා. දැන් මෙයාලා වෙච්චි දේවල් ටිකෙන්නෙ ආගම හැදුවෙ. බුදුරජාණන් වහන්සේ දන්නවා ඔය වෙච්චි දේවල් වලින් මෙයාලා හිතන ඒවයි, කියන ඒවයි, දෘෂ්ටි දාන ඒවගෙනුයි, මෙයාලා ඊළඟට මැරුණට පස්සෙ කොහෙද යන්නෙ කියලත් බුදුරජාණන් වහන්සේට පේනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මෙයට වඩා උත්තරීතර දේවලුත් දන්නවා, ඔතනින් එහා දේවලුත් බුදුරජාණන් වහන්සේ දන්නවා. උත්තරීතර දෙයක්. ඊටපස්සෙ ඒවා දැනගත්තා කියලා අමුතුවෙන් ඒවට බැඳෙන් නෑ. එහෙම බුදුරජාණන් වහන්සේ ඕවා දැනගත්තා කියලා බුදුරජාණන් වහන්සේ ඒවට බැඳෙන්නෑ. අද කාලෙ ඕවා දැනගත්තා නම් කොහොමද, පත්තර කීයකට ලියයිද? ලොකු වෙබ්සයිට් හදයි. අමුතු දර්ශන දායි. බුදුරජාණන් වහන්සේගේ නෑ. ඊටපස්සෙ කියනවා ඒ දෘෂ්ටි වලට හසු නොවෙන නිසාම තමා තුළම නිවී ගිය බව තමයි අවබෝධ වෙලා තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ කිසිම දෘෂ්ටියකට අහුවෙන් නැනෙ ඔය ක්‍රම හතරෙන්ම. තමා තුළම නිවිලා. ඒ වගේම පින්වත් මහණෙනි, තථාගතයන් වහන්සේ ඔය දෘෂ්ටි හතරට බැඳීමට හේතු වූ, ඒ ඒ තැන් වල සැප දුක් විඳී බවට ඇති වේදනාවන්ගේ හටගැනීමත්, නැතිවී යාමත්, ආශ්වාදයත්, ආදීනවයත්, නිස්සරණයත් ඒ වූ ආකාරයෙන්ම අවබෝධ කරගෙන උපදාන රහිතවම කෙලෙසුන්ගෙන් නිදහස් වෙලා ඉන්නෙ. බුදුරජාණන් වහන්සේ සියල්ලගෙන්ම නිදහස්. පින්වත් මහණෙනි, තථාගතයන් වහන්සේගේ ස්වකීය විශිෂ්ට ඥාණයෙන් ප්‍රඥාවෙන් සාක්ෂාත් කරපු යම් යම් දේවල් ඇත් ද, ඒ දේවල් තථාගතයන් වහන්සේගේ යථාර්ත වශයෙන්ම තිබෙන ගුණය වර්ණනා කරනවා නම් වර්ණනා කළ යුතු දේ වන ගාම්භීර දැකීමට දුෂ්කර, අවබෝධයට දුෂ්කර, ශාන්ත වූ, ප්‍රණීත වූ, තර්ක ගෝචරයෙන් තොර වූ, සියුම් වූ, නුවණැත්තන්ට විෂය වූ, මේ දේවල් තමයි වර්ණනා කරන්න ඕන කියනවා. බුදු ගුණ ඇත්තටම කියනවා නම් මේවා කියන්න ඕන කියනවා. මේ ලෝකයේ

ආගම් මතවාද, හැදිච්ච විදිය බුදුරජාණන් වහන්සේ දන්නවා. ඒ කිසිවක් දැනගත්තට ඒවත් එක්ක බැඳිලා නෑ, තමන් ඒ දෘෂ්ටි වල නෑ, ඇතුලෙන්ම නිවිලා ඉන්නෙ. ලෝකෙට කියන්න අමුතු කෙලේශයක් බුදුරජාණන් වහන්සේට නෑ, බුදුරජාණන් වහන්සේ සෑම දේකම ආශ්වාදය, ආදීනවය, නිස්සරණය දන්නවා. එතනින් එහා දෙයක් වුනත් දන්නවා. බුදුරජාණන් වහන්සේ පිරිනිවනට වැඩි කෙනෙක්. මේවා තමයි කිව්වා, මේ ගුණ ජේන් නෑ කිව්වා පෘථග්ජනයන්ට. හිතාගන්නවත් බෑ කිව්වා. ඒ නිසා ඔය තමයි මේ සූත්‍රයේ පළවෙනි බණවර. ඔය සූත්‍රයෙන් කියන්නෙ, මං මේ හුරුවක් සහ නොඇසූ දහම් පරියායක් අහන්න සැළැස්වීමක් කරන්නෙ. දීඝ නිකායේ පළවෙනි පොත් වහන්සේ ලොකු ස්වාමීන් වහන්සේගේ පරිවර්තනයේ තියෙනවා, අරගෙන කියවන්න. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මේ ලෝකෙ යම්තාක් ආගම්, දර්ශන, මතවාද, දෘෂ්ටි ඇතිවෙන යම් වැඩපිළිවෙලක් තියෙනවාද, ඒ සියල්ල දන්නා සේක, දකිනා සේක. ඒ සියල්ලෙන් නිදහස් වූ සේක. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේට නමස්කාර වේවා.

ඉතින් පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන ඕස්ට්‍රේලියාවේ ඇඩිලේඩ් නුවර පදිංචි පින්වත් ඩිලාන් ගිහිරියාගම මහත්මයා සහ සෝනාලි යශෝදරා නාවානගේ මහත්මිය විසින් මේ ධර්ම දේශනාව පවත්වන්නෙ. මේ සූත්‍රයෙන්, බ්‍රහ්මජාල සූත්‍රයෙන් පළවෙනි බණවර විතරයි ඔය දේශනා කලේ. ඊළඟට තියෙනවා මේ ලෝකය මැව්වා කියන දෘෂ්ටිය කොහොමද එන්නෙ? සත්ත්වයෝ මැව්වා, මවන දෙවි පියාණෝ සිටිනවා කියන අදහස කොහොමද ලෝකෙට ආවේ කියලා ඊළඟ බණවරින් විස්තර කරනවා. බලන්න, අවුරුදු දෙදහස් හයසීයකට කලින් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මේ ලෝකය මැව්වා කියන අදහස කොහොමද ආවේ කියලා විස්තර කලා. පුදුම සහගතයි ඒ විස්තරය. බුදු කෙනෙකුට හැර නම් මේ වගේ අගක් මුලක් කියන්න කිසි කෙනෙකුට බෑ. ඒ වගේ තමයි ඒ ආගම් වලට ගිය කෙනෙකුට එහෙම බුදු කෙනෙක්ගේ ධර්මයක් හම්බුනොත් මිසක්කා ඒකෙන් ගැලවෙන්නත් බෑ. අපි ඒ විස්තර ඊළඟ දවසේ ඉගෙන ගනිමු. ඉතින් අද දවසේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අනන්ත බුදුගුණ තේරෙන විදියට විස්තර කලේ. වෙලාව තියෙන විදියට විස්තර කලේ. ඉතින් ඒ නිසා, මේ ධර්මය දේශනා කරද්දි අපේ සිත කයෙන් වචනයෙන් වරදක් වුනා නම් තුණුරුවන්ගෙන් අනේක වාරයක් අපිට සමාව ලැබෙන්න ඕන. කෙසේ නමුත් අවසානයට අපිට තේරුනේ, බුදුරජාණන් වහන්සේ අනන්ත බුදුගුණ ඇති සේක. ඒ අනන්ත බුදුගුණයෙන්

බබලන මහා ප්‍රඥාවක් තියෙන සියලු දෘෂ්ටි වලින් නිදහස් වුනු බුදුරජාණන් වහන්සේගේ බුද්ධ තේජසින් ලොවට සෙත් වේවා. ඉතින් සියලු දෙවියෝ පින් අනුමෝදන් වෙලා මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම සියලූම මියපරලොව ගිය ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී ඥාතීන් පරලොව සැපයට පත්වේවා. ඒ වාගේම, මේ ධර්ම දේශනා අපිට කියවන්න සිංහලට පරිවර්තනය කරලා, ඒ වගේම ඔබට ධර්මය අහන්න මේ විදියට මාධ්‍යය, ඒ වගේම ශිෂ්‍ය පිරිසක් හදලා, ඒවගෙන් ඔබට ධර්මය ලැබෙන විදියට මේ සියලුම දහම් වැඩපිළිවෙලේ නියමුවාණන් වහන්සේ වන ගුරු දෙවිදුන්ට මේ පින් බලයෙන් නිදුක් නිරෝගී සුවපත්භාවය චිරජීවනය දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලූම සඟරුවනට, ඒ වගේම අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් බලයෙන් ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම විශේෂයෙන් මේ පින්වතුන් දෙපළ බලාපොරොත්තු වෙනවා අගෝස්තු මාසයේ ඉපදීමට නියමිත කුළුඳුල් පුතණුවන්ට මේ පින් අනුමෝදන් වේවා කියලා, බුද්ධානුභාවයෙන්, ධම්මානුභාවයෙන්, සංඝානුභාවයෙන්, අංගුලිමාල මහරහතන් වහන්සේගේ තේජානුභාව බලයෙන්, භාග්‍යවතුන් වහන්සේගේ ප්‍රඥාවේ අනුහසින්, නිකෙලෙස් බවේ අනුහසින් ඒ කුසේ සිටින පුතාට නිදුක් නිරෝගී සුවපත් භාවයත්, ගෞතම බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණත් මනුස්ස ජීවිතේ පිහිටත් ඒකාන්තයෙන් සැලසේවා කියලා සෙත් පතනවා. ඒ වගේම ඒ ඇඩිලේඩ් නුවර පදිංචි පින්වත් ඩිලාන් ගිහිරියාගම මහත්මයා සහ සොනාලි යශෝදරා නාවානගේ මහත්මියට මේ පින් ඒකාන්තයෙන්ම අනුමෝදන් වී නිදුක් නිරෝගී සුව වේවා. මේ පින්වතුන්ගේ දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුවපත්භාවය සැලසේවා. ඒ වගේම ඩිලාන් ගිරිහාගම මහත්මයාගේ අත්තම්මාට, සීයාට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැලසේවා. ඔබ සියලු දෙනාට ගෞතම බුද්ධ ශාසනයේ ධර්මාවබෝධය ලබන්න මේ පින් හේතු වාසනා වේවා. ඒ වගේම රැස් කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට, ගුරු භවතුන්ට අනුමෝදන් වෙත්වා. මේ පින් බලයෙන් සියලු දෙනා කායික සුවයෙන්, මානසික සුවයෙන් සුවපත් වේවා. ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයට, ඒ වගේම දායකත්ව දරණ සියලු පින්වතුන්ට පින්සිදු වේවා. අපි කාටත් කිසිම දෘෂ්ටියකට බැඳෙන්නැතිව, භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ නිකෙලෙස් හද මඩලින් දේශනා කලා නම් යම් ධර්මයක් මේ ලෝකය අනිත්‍යයි, දුකයි අනාත්මයි කියලා,

ඒ ලෝකයේ සත්‍යය ස්වභාවය අවබෝධ කරගන්න මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=T4rvhENSZxY&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=44

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහනින් බුදුරජාණන් වහන්සේගේ බුද්ධ ශාසනය ගැන තමයි තේරුම් ගන්නේ. ඒ බුද්ධ ශාසනය බිහි කළ ශාස්තෘන් වහන්සේ ගැනයි තේරුම් ගන්නෙ. ඒ බුදුරජාණන් වහන්සේ ගැනයි පැහැදීම ඇති කරගන්නෙ. එතකොට අපි මේ දවස්වල විශේෂයෙන් කතා කරන කාරණාව නිතර අපිට අහන්න නොලැබෙන දේශනාවක් අපි ඉගෙන ගන්නෙ. ඉතින් අදත් ඒ ගැන අපි ඉගෙන ගනිමු. මුලින්ම අපි සිහිපත් කරනවා අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන් විදුලිය තුළින් විකාශනය කරවන්නට නො.48, කජුගහවත්ත, ගොතටුව, අංගොඩ යන ලිපිනයේ පදිංචි පින්වත් එච්.පී. ලංකාදේව මහත්මයා සහ නර්මදා සුභාෂිණී මහත්මිය, ඒ වගේම ඩී.ඩී. විජිතා මැණියන් මේ පින්වතුන් මුල් වෙලා වසර 13කට පෙර මියපරලොව ගිය ජී. අමරසේන පියාණන්ට පින් අනුමෝදන් කරන්නටත්, සුජීවත්ව සිටින සියලු දෙනාට සෙත් පිණිසත්, ලෝකයට සෙත්

පිණිසත් අද මේ ධර්ම දානයේ පින රැස් කරගන්නවා. මීට කලින් වැඩසටහනේත්, ඒ වගේම අදත් අපි ඉගෙන ගන්නේ බ්‍රහ්මජාල සූත්‍රය. බ්‍රහ්මජාල සූත්‍රය දේශනා කරපු මොහොතේ, දේශනා කරලා අවසන් වෙනකොට ලෝක ධාතු දාහක්, හිරු මඬලවල් දාහක් ඇති, සඳමඬලවල් දාහක් ඇති චක්‍රාවාට දාහක් කම්පා වෙලා ගියා, සෙලවිලා ගියා. ඒ බුදුරජාණන් වහන්සේගේ අපරිමිත ඒ ඥාණ සමුදාය ගැන කියවෙන දේශනාව ඉදිරියේ. මේ දේශනාව දීඝ නිකායේ පළවෙනි දේශනාව. ධර්ම සංගායනාවේදී පළමුවෙන් සංගායනා වුන ධර්ම දේශනාව තමයි බ්‍රහ්මජාල සූතය. බ්‍රහ්මජාල සූත්‍රය පින්වතුනි දීඝ නිකායේ තියෙන දීර්ඝ දේශනාවක් නිසා සාමාන්‍යයෙන් අපිට වැඩසටහන් වලදී පවා පැය එකහමාරක් දෙකක් ඇතුලත ඒ දේශනාව සම්පූර්ණයෙන් කරන්න අමාරුයි. ඒ නිසා අපිට මේ දේශනාව නිතර අහන්න අවස්ථාව ලැබෙනවා අඩුයි. අනිත් ඒක මේ දේශනාවේ තනිකර තියෙන්නෙ මේ ලෝකයේ ආගම් ඇතිවෙන විදිය, මතවාද ඇතිවෙන විදිය. දැන් මෙතන මූලිකවම පූර්වාන්ත, අපරාන්ත කියලා තියෙනවා. ඒ කියන්නෙ මේ ඉන්න ජීවිතේට කලින් පෙර ජීවිත බලලා ඇතිවෙන දෘෂ්ටි දහඅටක් ගැන තියෙනවා. ඉස්සරහ ජීවිතේ, මැරුණට පස්සේ මොනවද වෙන්නේ කියලා ඇතිවෙන දෘෂ්ටි හතලිස් හතරක් තියෙනවා. එතකොට දෘෂ්ටි හැට දෙකක්, පූර්වාන්ත, අපරාන්ත, මේ විදියට පෙර ජීවිත සහ පසු ජීවිත මුල් කරගෙනම ආගම් හැට දෙකක් ඇතිවෙනවා. එතකොට මේ විදියේ ආගම් පිළිබඳව, දෘෂ්ටි පිළිබඳව, මතවාද පිළිබඳව විස්තර වෙන, වෙන කිසිම තැනක් නෑ. මේ සියල්ලම එකම තැන විස්තර වෙන. ඉතින් ඒ නිසා මේ ලෝකෙ යම්තාක්, අදට වුනත් ආගම් තියෙනවාද, ඒ සියලු ආගම් මෙන්න මේ ක්‍රමයට තමයි ඇතිවෙන්නෙ. දැන් අද අපි ඉගෙන ගන්න කාරණාවෙ තියෙන්නෙ, මැවුම්වාදය. දෙවියන් වහන්සේ අන් අය මවන ලදී කියන අදහස කොහොමද ලෝකෙට ආවේ කියලා. ඉතින් ඊට කලින් අපි ආපහු සූත්‍ර දේශනාව මොහොතක් සිහි කරගනිමු. ඒ තමයි පින්වත්නි, බුදුරජාණන් වහන්සේ භික්ෂු සංඝයා සමග රජගහනුවර ඉඳලා නාලන්දාවට වඩිනවා දීර්ඝ මාවතේ. වඩිනකොට ඒ බුදුරජාණන් වහන්සේත් සඟ පිරිසත් පිටිපස්සෙන් සුප්පිය කියන පිරිවැජියයි - සුප්පිය කියන තාපසයයි, බ්‍රහ්මදත්ත කියන ඔහුගේ අතවැසියා, ඒ දෙදෙනා සංඝයාට පිටිපස්සෙන් යනවා. ඉතින් මේ සුප්පිය පිරිවැජියාට බුදුරජාණන් වහන්සේගේ අගුණමයි එයා කියන්නෙ එයාට රුස්සන් නෑ. ධර්මයේ සංඝරත්නයේ අගුණමයි කියන්නෙ. ඊළඟට ඔහුගේ ශිෂ්‍යයා බුදුගුණ කියනවා, දම් ගුණ කියනවා, සඟ ගුණ

කියනවා. ඉතින් මෙහෙම බොහෝ දුරට ගිහිල්ලා එදා රාත්‍රියේ නාලන්දාවට යන්න බැරිවුනා, අතරමැද අම්බලට්ඨිකාවේ රාජකාගාරයේ තමයි, රජවරු හදපු සන්නිපාතාගාරයක්, එකතු වෙන ප්‍රජාශාලාවක් වගේ එකක්. එහි තමයි භාග්‍යවතුන් වහන්සේ නැවතුනේ. අර දෙන්නත් ඒකෙම නැවතුනා. ඒ රෑ එළිවෙනකලුත් අර සුප්පිය පිරිවැජියා බුදුරජාණන් වහන්සේට බනිනවා, ධර්මයට බනිනවා, සංඝයාට බනිනවා. ඔහුගේ ගෝලයා බුදුරජාණන් වහන්සේගේ ගුණ කියනවා, ධර්මයේ ගුණ කියනවා, සංඝයාගේ ගුණ කියනවා. පහුවදා උදේ සංඝයා කතා කලා බුදුරජාණන් වහන්සේ සත්ත්වයන්ගේ නානාධිමුක්තිකතාවය, මේ සත්ත්වයන්ගේ තියනෙ වෙනස්කම් හැඟීම් වල, සිතිවිලි වල, ජීවිත වල තියෙන වෙනස්කම් දේශනා කරපු එක කොයිතරම් ආශ්චර්‍ය්‍ය දෙයක්ද, මේ බලන්න ගුරායි ගෝලයාගෙයි අදහස් දෙකේ වෙනස. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ එතෙන්ට වැඩම කරලා සංඝයාගෙන් ඇහුවා කුමක්ද කතා කර කර හිටියේ, ඊටපස්සෙ කාරණාව කියා හිටියාට පස්සේ බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, තථාගතයන් වහන්සේට වුනත් කවුරුහරි බැන්නොත්, ගැරහුවොත්, ඊළඟට දොස් කිව්වොත් ඒ වෙලාවට ගැටෙන්න, අමනාප වෙන්න, තරහ ගන්න යන්න එපා. මොකද එහෙම වුනාට පස්සෙ ඒ කියන දේ ඇත්තක්ද, නැත්තක්ද කියලා හොයාගන්න අමාරුයි. ඉතින් යම්කිසි කෙනෙක් බුදුරජාණන් වහන්සේට දොස් කියනවා නම්, ධර්මයට, සංඝරත්නයට දොස් කියනවා නම්, සිහි බුද්ධියෙන් කල්පනා කරලා බලන්න මේ කියන ඒවා තියෙනවාද? ඒ කියන ඒවා බුදුරජාණන් වහන්සේ තුළ නෑ, ධර්මය තුළ නෑ, සංඝයා තුළ නෑ. ඊටපස්සෙ ඒක ලිහාගන්න, තමන් ඒවගේ පටලැවෙන් නැතිව. ඒ ප්‍රශ්නය තමන්ම හිතෙන් ලිහාගන්න පටලැවෙන් නැතිව. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගේ, ධර්මයේ, සංඝරත්නයේ ගුණ කිව්වොත් අමුතු උද්දාමයකට පත්වෙන්නටත් එපා ඒ වෙලාවටත් කල්පනා කරන්න මේවා බුදුරජාණන් වහන්සේ තුළ, ධර්මය තුළ, සංඝරත්නය තුළ තියෙනවාද? එහෙම තියෙනවා නම් තියෙන දෙයක්නේ තියෙන්නේ කියලා ඒකෙ පටලැවෙන්නැතිව ලිහාගන්න. බුදුරජාණන් වහන්සේ වදාළා මේ ධර්මය අවබෝධ නොකරපු මේ ලෝකෙ ඉන්න අශ්‍රැතවත් පෘථග්ජනයා බුදුගුණ කියන්න ගියොත් එහෙම, එයාලා බුදුගුණ කියන්නේ සීලය අරමුණු කරගෙන. බුදුරජාණන් වහන්සේගේ සීලය ගැන කියනවා, හැබැයි ඒ සීලයේ අල්පමාත්‍රයක් කියන්නෙ. ඉතින් පෘථග්ජනයාට කියන්න පුලුවන් අල්පමාත්‍ර වූ ඒ සීලය මොකක්ද? ඒ තමයි බුදුරජාණන් වහන්සේ ප්‍රාණඝාතය කරන්නෑ, සොරකම් කරන් නෑ කියලා මේ

බුද්ධ ශාසනයේ ඔබ අහලා තියෙන චූලසීල, මජ්ඣිම සීල, මහා සීල කියලා තියෙනවා. එතකොට මූලික වශයෙන් අපි කතා කරන දස කුසල් ආදී දේවල් ඒවා අයිති වෙනවා චූල සීල. මධ්‍යම සීලයට අයිති වෙනවා බුදුරජාණන් වහන්සේගේ ඒ ඇවතුම් පැවතුම් පිළිබඳව. ඊටපස්සෙ මහා සීලයට අයිති වෙනවා ආජීවය සම්බන්ධයෙන්. ඉතින් ඒකෙදින් අපි විස්තර කලා මේ ලෝකෙ තියෙන යන්ත්‍ර, මන්ත්‍ර, තන්ත්‍ර, ශාස්ත්‍ර, විද්‍යා, ඒවගෙන් ලෝකෙ ශ්‍රමණබ්‍රාහ්මණවරු ජීවත් වෙනවා. නමුත් බුදුරජාණන් වහන්සේ ඒවගෙන් ජීවත් වෙන් නෑ කියලා හරී සිල්වත් කෙනෙක් කියලා ලෝකය කතා කරනවා. ඒ එක සීල මාත්‍රයක්. ලෝකෙ පෘථග්ජනයාටත් බුදුරජාණන් වහන්සේගේ ඒවගේ සිල් ගැන කියන්න පුලුවන්. ඒ වුනාට බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, අවබෝධයට දුෂ්කර වූ, අතක්කාවචර වූ, ගම්භීර වූ, නුවණැත්තන් විසින් අවබෝධ කරන මහා පරම ගම්භීර ඥාණයක් බුදුරජාණන් වහන්සේට තියෙනවා. එතකොට අන්න වර්ණනා කරනවා නම් බුදුගුණ. බුදුරජාණන් වහන්සේ ගැන වර්ණනා කරනවා නම් ආන්න ඒ විදියට වර්ණනා කලා නම් හරි කිව්වා. අවබෝධ කිරීමට දුෂ්කර වූ භාග්‍යවතුන් වහන්සේගේ ඥාණය. ඉතින් එහෙම නම් කතා කලාට කමක් නෑ කිව්වා, ඒක නම් වර්ණනාවක් කියන්න පුලුවන් කිව්වා. එතකොට එහෙනම් බුදු කෙනෙක් පවා ප්‍රශංසා කරන බුදුගුණ තේරුම් ගන්න බුදුරජාණන් වහන්සේගේ ඥාණය මේකයි කියලා තේරුම් ගන්න සුදුසු කරුණු ටික තමයි දැන් කතා වෙන්නෙ. ඉතින් මේක අහනකොට අපි සතුටු වුනා ඇත්තටම අපි පහුගිය කාලෙ බුදුගුණ කියනකොට ඒ බුදුරජාණන් වහන්සේගේ ඥාණය ගැනමයි ප්‍රකට කර කර ඒ විස්තර කළේ. එතකොට ඒකෙන්ම තේරුම් ගන්න අපිට බුද්ධ ශාසනයේ ඇත්තටම පෘථග්ජන බවේ ගිලෙන්නැතිව අපිට බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගැන යම්කිසි ප්‍රසාදයකට එන්න ලැබිච්ච එක කොයිතරම් හොඳද කියලා. මොකද බුදුරජාණන් වහන්සේ වුනත් බාහිර දේකින් වර්ණනා කරනවාට වැඩිය බුදුරජාණන් වහන්සේගේ ඥාණය ගැන ලෝකයා ප්‍රසාදයට පත්වෙන එක ගැන බුදුරජාණන් වහන්සේ ඒක සුදුසුයි කියලා වදාළා. ඊටපස්සෙ පින්වතුනි ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝකයේ මනුස්සයාගේ දෘෂ්ටි ඇතිවෙන විදිය වදාළා. දෘෂ්ටි ඇතිවෙන විදිය. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා, මේ ලෝකයේ සත්ත්වයා අතීතයේ අරමුණු, අතීතයේ කෙළවරක් අරමුණු කරගෙන දෘෂ්ටි වලට බැඳෙන විදිය. බුදුරජාණන් වහන්සේ වදාළා අතීත කෙළවර මුල් කරගෙන දෘෂ්ටි දහ අටකට බැඳෙනවා. දෘෂ්ටි කීයකට

බැදෙනවාද, දහ අටකට. මේවා ඉතින් කොළයක් අරගෙන සටහන් කරගත්තත් කමක් නෑ, කොළයක් අරන් සටහන් කරගත්තොත් තමයි හොඳට මතක හිටින්නෙ. අතීතයේ අරමුණු, ඒ කියන්නේ පෙර ජීවිත මුල් කරගෙන දෘෂ්ටි දහඅටකට බැදෙනවා. එක දෘෂ්ටියක් තමයි සාස්වතයි කියලා. ඒ දෘෂ්ටි දහ අටකට බැදෙනවා ක්‍රම කීපයකට. එක ක්‍රමයක් තමයි සාස්වතයි, සාස්වතයි කියන්නෙ ඇත කියන දෘෂ්ටියට. ඇත කියන දෘෂ්ටියකට වැටෙනවා. ඒ වැටෙන්නේ ක්‍රම හතරකට. වෙන ක්‍රමයක් නෑ. ඇත කියන දෘෂ්ටියට වැටෙන්න ක්‍රම හතරක් තියෙනවා වෙන ක්‍රමයක් නෑ. මොකක්ද ඒ? ඔන්න එක්කෙනෙක් හොඳට භාවනාව දියුණු කරලා දියුණු කරලා සමාධියෙන් පෙර ජීවිත දකින නුවණ උපදවා ගන්නවා. පෙර ජීවිත දකින නුවණ උපදවාගෙන පෙර ජීවිත බලලා, බලලා ලක්ෂ ගණන් පෙර ජීවිත පේනවා. එතකොට පෙර ජීවිත පේනකොට එයා ජීවිත ලක්ෂ ගාණක් බලනකොට පේනවා ඉපදෙනවා, මැරෙනවා, ඉපදෙනවා, මැරෙනවා, ඉපදෙනවා, මැරෙනවා, මේ මැරි මැරී උපදින්නේ මේ ලෝකෙ. එතකොට මෙයා ලෝකෙට අදහසක් ගේනවා ලෝකයක් කියලා එකක් තියෙනවා, ආත්මයක් කියලා එකක් තියෙනවා. ආත්මයක් ලෝකයක් ඇත කියලා ඔන්න සාස්වත දෘෂ්ටියට ආවා, පළවෙනි ක්‍රමය. ඒ පළවෙනි ක්‍රමයේ එයා දෘෂ්ටියකට ආපු හේතුව තමයි පෙර ජීවිත ලක්ෂ ගාණක් බලනකොට ඉපදෙන මැරෙන කෙනෙක් ඉපදෙන මැරෙන කෙනෙක් පෙනුනා. හැබැයි එයාට පෙනුනෙ ඉපදි මැරි මැරි ඉපදි මැරි මැරි එක්කෙනෙක්ම එනවා. අනිත් එක තමයි ඒ කට්ටිය ඔක්කොම ඉපදි මැරි මැරි හරි මේ සක්වලේ තමයි උපදින්නෙ. එතකොට සක්වලක් කියලා එකක් ලෝකයක් කියලා එකක් තියෙනවා. ආත්මයක් කියලා එකක් තියෙනවා කියලා, එයා ආවෙ කවුරුවත් කියපු දෙයක් අහලා නෙවෙයි, එයාම දැක්කා ජීවිත ලක්ෂ ගාණක්. කොහොමද දෘෂ්ටීන් හැදෙන හැටි. දැන් එයාම ඇහැට දැක්කා නම්, එයාටම පේනවා නම් පෙර ජීවිත, කවුරුහරි නෑ කිව්වොත් පිළිගනීද? පිළිගන්නෑ. ඒ නිසා ඔන්න දෘෂ්ටියකට වැටුනා. තමන්ට පේන දේකින්ම දෘෂ්ටියකට වැටුනෙ. ඊටපස්සෙ දෙවෙනි එක්කෙනා තමයි, දෙවෙනි දෘෂ්ටියට වැටෙන විදිය තමයි එයා ජීවිත බලනවා, ජීවිත ලක්ෂයක් නෙවෙයි, සංවට්ඨ විවට්ඨ මේ ලෝකෙ හැදෙන නැතිවෙන මහා කල්ප එයා සංවට්ඨ විවට්ඨ කල්ප එක දෙක තුන හතර දහය සංවට්ඨ විවට්ඨ කල්ප දහයක් දකිනවා. එහෙම දකිනකොටත් එයාට පේනවා එක්කෙනෙක් මැරෙනවා ඉපදෙනවා, මැරෙනවා ඉපදෙනවා, ලෝකෙ. ලෝකෙත් ඇතිවෙනවා, නැතිවෙනවා, ඇතිවෙනවා,

නැතිවෙනවා. හැබැයි ඇතිවෙලා නැතිවෙලා හරි ලෝකයක් තියෙනවා. එතකොට ලෝකයක් තියෙනවා, ආත්මයක් තියෙනවා කියලා ඇත කියලා දෘෂ්ටියට එනවා දෙවෙනි එක. එතකොට ඒ දෙවෙනි දෘෂ්ටියට එයා එන්නෙ සංවට්ඨ විවට්ඨ කල්ප දහයක් විතර දැකලා. ඉස්සෙල්ලා එක්කෙනා ජීවිත ලක්ෂයක් දැකලා. තුන්වෙනි එක්කෙනා ඇත කියන සංඥාවට එන්නෙ එයාට සංවට්ඨ විවට්ඨ කල්ප දහය පහළොව, විස්ස, තිහ හතළිහ, සංවට්ඨ විවට්ඨ කල්ප හතළිහ පේනවා. ඒත් පේනවා මැරෙනවා, ඉපදෙනවා, මැරෙනවා, ඉපදෙනවා, සක්වල ඉපදෙනවා, සක්වල ඇතිවෙනවා, නැතිවෙනවා, හැබැයි ඇතිවෙනවා, නැතිවෙනවා ගානට ගන්නෑ, එයාට අර ඉපදෙනවා මැරෙනවා එකක් එයාට හිතෙන්නෙ. එතකොට එයාට හිතෙනවා ලෝකයක් තියෙනවා, ආත්මයක් තියෙනවා. ආයෙත් ඇත කියන තැනටම ආවා එයාට සංවට්ඨ විවට්ඨ කල්ප හතළිහක් පෙනිලත් ඇත කියන තැනටම ආවා. ඔය තුන්වෙනි ක්‍රමය. හතරවෙනි එක්කෙනා මොකද කරන්නෙ? ඒ හතරවෙනි එක්කෙනා දෘෂ්ටියකට පත්වෙන්නෙ එයා තර්ක කරනවා. තර්ක විතර්ක විමසලා විමසලා එයා කියනවා ලෝකයක් ඇත සාස්වතයි, ආත්මයක් ඇත. ඔන්න බුදුරජාණන් වහන්සේ වදාළා ඔය ක්‍රම හතරට තමයි ලෝකයේ සාස්වතයි, ඇත කියන දෘෂ්ටිය ඇතිවෙන්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා වෙන ක්‍රමයක් නෑ, ඉතින් බුදුරජාණන් වහන්සේ ඕක අවබෝධයෙන්ම දන්නවා. ඒ කියන්නෙ මේ අය මේ දෘෂ්ටියට ග්‍රහණය වෙලා මේකම බදාගෙන ඉඳලා මේකටම බැඳිලා ඉඳලා ආයෙ උපතක් කරා යන හැටි. මොකද එයාලා කෙළවරක් හොය හොයා ඉන්නකොට මෙයාලා ආපහු උපතකට යනවා. එතකොට ආපහු උපත් වලට යනහැටි බුදුරජාණන් වහන්සේට පේනවා. ඊටපස්සෙ මීට වඩා දේවලුත් බුදුරජාණන් වහන්සේට පේනවා. අවබෝධ වෙලා තියෙන්නෙ. ඊටපස්සෙ නමුත් මට මීට වඩා දේවලුත් තේරෙනවානේ කියලා බුදුරජාණන් වහන්සේට ඒ අවබෝධ ඥාණය ගැන බැඳීමක් නෑ. අද කාලේ කෙනෙකුට මොනවාහරි වැටහීමක් තිබ්බොත් කොහොමද ඒක, මමයි මේක දන්නෙ, මටයි මේක තේරෙන්නෙ, මමයි මේක දැක්කෙ කියලා. බුදුරජාණන් වහන්සේට එහෙම ඒ අවබෝධ ඥාණයත් එක්ක බැඳීමක් නෑ. ඊටපස්සෙ ඒ දෘෂ්ටි වලට බුදුරජාණන් වහන්සේ දන්නවා දකිනවා, මේ දෘෂ්ටි වලට මා අසුනොවුනු නිසා මම මං තුළම නිවිලා ඉන්නෙ. බුදුරජාණන් වහන්සේ නිවිලා ඉන්නෙ. සංසිඳිලා ඉන්නෙ. ඇවිස්සිලා නෑ. ඒකත් බුදුරජාණන් වහන්සේ දකිනවා. ඊළඟට මේ දෘෂ්ටි ස්පර්ශය නිසා හටගන්නා වේදනාවන්ගේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය

බුදුරජාණන් වහන්සේ දන්නවා, දකිනවා, අවබෝධ කලා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ උපාදාන රහිතව කෙලෙසුන්ගෙන් නිදහස් වෙලා සිටින්නෙ. ලෝකයා දෘෂ්ටි වල බැසගන්නකොට බුදුරජාණන් වහන්සේ නිදහස් වෙලා. අන්න බුදුරජාණන් වහන්සේ වදාළා අන්න බුදු ගුණ කියනවා නම්. අන්න ශාස්තෘන් වහන්සේ ගැන වර්ණනා කරනවා නම් ඔය ක්‍රමයට වර්ණනා කලාට කමක් නෑ කිව්වා. මේ කිසිම දෘෂ්ටියකට බුදුරජාණන් වහන්සේ අහුවුන් නෑ. මේ දෘෂ්ටීන්ගේ හටගැනීම, නැතිවීම, ආශ්වාදය, ආදීනවය, නිස්සරණය දන්නවා. ඒ බුදුරජාණන් වහන්සේ දන්න දකින ඥාණයටවත් බුදුරජාණන් වහන්සේගේ බැඳීමක් නෑ. බුදුරජාණන් වහන්සේ මේ දෘෂ්ටීන් වලට බැඳුනට පස්සේ ඊටපස්සෙ කුමක්ද වන්නේ කියලා බුදුරජාණන් වහන්සේට අවබෝධ ඥාණය තියෙනවා. පින්වතුනි මේක ආශ්චර්‍යයියි, අද්භූතයි. තමන් ස්වයංභූත් ඥාණයෙන්ම මේ සියලු දෘෂ්ටීන් වලින් ගැලවිලා ගියා. යම්කිසි කෙනෙක් ගිහි ජීවිතෙන් මිදිලා ඒ කාලෙ මහණ වෙන්න ගියොත් බුද්ධ කාලෙ, ඒ කාලෙ මීට අවුරුදු දෙදහස් හයසීයකට කලින් කවුරුහරි ශ්‍රමණ ජීවිතේකට ගියොත් ඔය දෘෂ්ටි වලට වැටෙන්නෙ. ඇයි යන තැන කවුරුහරි උගන්වන එක්කෙනා එයාට කියනවානෙ ඕක. මේ ජීවිතේ ආත්මයයි, ලෝකයයි ඔක්කොම සාස්වතයි කියලා. එතකොට ඒ ගුරුවරයාගේ අදහස්නෙ ශිෂ්‍යයන්ට යන්නෙ. ඊටපස්සෙ ගුරුවරු අතහැරලා තනියෙන් ගියොත් එහෙම ආයෙත් භාවනා කරලා ඔය හතරෙම පටලැවෙනවානෙ. එතකොට එයා කියනවා අනිත් අයට, ඊටපස්සෙ එයාට ගෝලයො ටිකක් හැදෙනවා. ඒ වගේ තමයි ඒ කාලෙ පූර්වාන්ත, අපරාන්ත මුල් කරගෙනම ආගම් හැට දෙකක්. ඒ හැටදෙකම විස්තර කරනවා මේකෙ. ඔන්න දැන් ආගම් හතරක් විස්තර කලා. හැබැයි හතරෙම සිද්ධාන්තය වුනේ සාස්වතයි. තව කට්ටියක්, ඔන්න අද තමයි මැවුම්වාදය කොහොමද ආවෙ කියලා විස්තර කරන්නෙ. මං ඇත්තටම මෙතෙක් විස්තර කලේ කලින් කියපු කාරණාව. මොකද මේක තේරුම් ගන්න. ඊටපස්සෙ මීට කලින් වැඩසටහනේ නොතේරුණු අයට දැන් පොඩ්ඩක් තේරෙන්න ඇති. දීඝ නිකායේ එකේ තියෙන්නෙ මේ සූත්‍ර දේශනාව. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝකයේ තවත් සත්ත්වයෝ දෘෂ්ටි වල පටලැවෙනවා, මේ ජීවිතය සාස්වතයි, ඇතැම් දේවල් අසාස්වතයි. ඒ කියන්නෙ පෙලක් අනිත්‍යයි, පෙලක් නිත්‍යයි. කොටසක් අනිත්‍යයි, කොටසක් නිත්‍යයි. ටිකක් අනිත්‍යයි, ටිකක් නිත්‍යයි. ඔන්න එහෙම දෘෂ්ටියකුත් එනවා. ඒ දෘෂ්ටිය, දැන් ඇත්තටම මැවුම්වාදයේ තියෙන්නෙ ඕක. එතකොට ඒ දෘෂ්ටිය එන ක්‍රම හතරක් බුදුරජාණන් වහන්සේ

දැක්කා. මොකක්ද ඒ? බුදුරජාණන් වහන්සේ දැක්කා හෝතිකෝ සෝ භික්ඛවේ සමවෙයයං කරහච්චි කරහච්චි දීඝස්ස අච්චේන අයං ලෝකෝ විවට්ඨති, බුදුරජාණන් වහන්සේ වදාළා ඔන්න පින්වත් මහණෙනි, කාලයක් එනවා මේ ලෝකෙ සකස්වෙන. දැන් අර අපි ගත්තොත් සච්චසූරිය සූත්‍රයේ වගේ ඉරවල් හතක් පායලා මේ ලෝකය ගිනිගෙන දැවිලා, සක්වල විනාශ වෙලා, එහෙම වෙලා කාලයක් එනවා මේ ලෝකය හැදෙනවා. ඒ හැදෙන කාලෙට මේ වෙනකොට, බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝකය ඉස්සෙල්ලා විනාශ වෙනවානෙ, හෝතිකෝ භික්ඛවේ සමයෝ කදහච්චි කදහච්චි අච්චේන අයං ලෝකෝ සංවට්ඨති, මේ ලෝකෙ ඉස්සෙල්ලාම විනාශ වෙනවානෙ, විනාශ වෙලා විවට්ඨමානේන ලෝකෙ යේ බුයිහේනසත්තා ආභස්සර සන්තනිකාහොන්ති, දැන් අපි කියමු ඉරවල් හතක් පායලා මේ සක්වල විනාශ වෙලා මේ පෘථිවිය විනාශ වෙලා ගියාට පස්සෙ ගොඩාක් සත්තු ගිහිල්ලා උපදින්නේ ආභස්සර කියන බ්‍රහ්ම ලෝකෙ. තේතත්ථ හොන්ති, එහි ඒ සත්ත්වයෝ ඉන්නේ මනෝමය කයකින්. මේ ශරීරයම භාවනාවෙන් පුලුවන් පින්වතුනි මේ හැඩරුවම තියෙන ශරීරයක් එළියට ගන්න පුලුවන්. ඒකට කියනවා මනෝකාය කියලා. එතකොට ඒ ආභස්සර දිව්‍යලෝකෙ ඉන්නෙ මනෝකයෙන්. පීතිභක්කා, ආහාරය තමයි ප්‍රීතිය. ආයෙ උයන්නෙ පිහන්නෙ තෙම්පරාදු කරන්නෙ රත් කරන්නෙ නෑ. ප්‍රීතිය, සතුටින් ඉන්නෙ. ඒ සතුට වැඩිවෙනකොට තමයි කය ආහාරයෙන් පිරෙන්නෙ. සයම් ප්‍රභා, ලයිට් දාලා, ඒවා මොකුත් නෑ, තමන්ගේ ඇඟෙන්ම එළිය එන්නෙ. ඊටපස්සෙ අන්තලික්කචරා, අහසේ තමයි ගමන් කරන්නෙ, අහසින්. ඊළඟට සුභට්ඨායිනෝ චිරං දීගමද්ධානං තිට්ඨති. මේ විදියට ප්‍රීතිය අනුභව කරමින් අහසේ සැරිසරමින් සොඳුරු ලෙස ජීවත් වෙමින් දීර්ඝ කාලයක් ඉන්නවා. ඔන්න එතකොට ලෝකෙ නෑ. ඔන්න කාලයක් එනවා මේ පෘථිවිය හැදෙනවා. ලෝකය හැදෙන කාලෙ. එතකොට ලෝකය හැදෙන්නෙ කොහොමද කියලා විස්තර වෙනවා අග්ගඤ්ඤ සූත්‍රයේ. එතකොට දැන් ඒකත් දීඝ නිකායේ තියෙන්නෙ. එතකොට ඒක දැන් මෙතන විස්තර කරන්න බැරි දේශනාවක්. එතකොට මේ ලෝකය හැදෙන කාලයක් එනවා. හැදෙන කාලයක් එනකොට ඔන්න ඒත් එක්කම බ්‍රහ්ම විමානයකුත් හැදෙනවා. විමාන දිව්‍ය විමාන, බ්‍රහ්ම විමාන හැදෙනවා. එතකොට හිස් බ්‍රහ්ම විමානයක් හැදෙනවා බ්‍රහ්මයෙක් නෑ මේකෙ. එතකොට අර ආභස්සර දිව්‍ය ලෝකෙන් ආයුෂ ඉවරවෙලා එක ආභස්සර දිව්‍ය රාජයෙක්, බ්‍රහ්මයෙක් එහෙන් චුත වෙලා අර හිස් බ්‍රහ්ම ලෝකෙ උපදිනවා. දැන්

මේකෙ ස්වභාවය ඉහළින් පහළට තමයි එන්නෙ. ඔන්න අලුතින් හැදිච්චි හිස් බ්‍රහ්ම ලෝකෙ ඉපදුනා. ඒ ඉපදුනාට පස්සෙ ඔන්න මෙයා දැන් අර විදියටමයි. දීර්ඝායුෂ තියෙනවා, ශරීරයෙන් ආලෝකය විහිදෙනවා, ප්‍රීතිය අනුභව කරලා එයත් දැන් ආභස්සර බ්‍රහ්ම ලෝකෙ වගේම මේකෙ ඉන්නවා. අහසින් යන්නෙ, ඇඟේ එළිය. ඔහොම ඔහොම කාලයක් යනකොට මෙයාට කලකිරීමක් ඇතිවෙනවා, නොඇල්මක් ඇතිවෙනවා මං විතරයිනෙ ඉන්නෙ කියලා. ඇයි කවුරුත් නැනෙ. එතකොට මෙයාට හිතෙනවා තවත් සත්ත්වයෝ ඉපදෙනවා නම් හොඳයි කියලා මෙයාට හිතෙනවා. ඔන්න වෙච්චි දේ. මෙයාට හිතෙනවා තවත් කවුරුහරි ඉපදෙනවා නම් කියලා හිතෙනවා. එහෙම හිතනකොට පින්වතුනි අර ආභස්සර දිව්‍යලෝකෙ තවත් ආයුෂ අවසන්වෙච්චි අය ඉන්නවානෙ, ඒ අය චුත වෙලා ආයෙ මේ විමානෙ ආයෙ උපදිනවා. එතකොට මෙයාට හිතෙනවා, එතකොට මෙයා මොකද කරන්නෙ? එයාලත් අර ආලෝකය විහිදමින් ඉන්නේ. එතකොට ඉපදුනාට පස්සෙ අර මුලින් ඉපදිච්ච කෙනාට හිතෙනවා, මං තමයි බ්‍රහ්මයා. මං තමයි මහා බ්‍රහ්මයා. මං තමයි සියල්ල මැව්ව කෙනා. මාව කාටවත් මැඩලන්න බෑ. මං හැමදේම දකිනවා. මම හැමදේම වසඟයට අරගෙනයි ඉන්නෙ. මම තමයි දෙවියන් වහන්සේ, මම තමයි මේකෙ කතෘ. මම තමයි ලෝකය නිර්මාණය කලේ. මං තමයි ශ්‍රේෂ්ට. ලෝකය සකස් කලේ මං. ලොව වසඟ කලේ මමයි. උපන් සත්ත්වයාගේත්. ඉපදෙන්න ඉන්න සත්ත්වයාගේත් පියාණන් වහන්සේ මමයි. කියලා මෙයාට හැඟීමක් ඇතිවෙනවා. ඒකට හේතුව කුමක්ද, මම තනියෙන් හිටියේ මේ බ්‍රහ්ම විමානෙ, මමයි සිහි කලේ තවත් අය ඉන්නවා නම් හොඳයි කියලා, මම හිතපු නිසා ඊටපස්සෙ මේ අය පහළ වුනා. එතකොට මේ අය මගේ සිතුවිල්ලෙන් ප්‍රාර්ථනාවෙන් තමයි මං මැව්වෙ. දැන් ඒ බ්‍රහ්මයාටම හිතෙනවා කියනවානෙ අඳුරේ ඉන්නකොට මේ ඉර හඳ තියෙනවා නම් හොඳයි කියලා. එතකොට අර ලෝකෙ හැදීගෙන එන ක්‍රියාදාමය අනුව ඊළඟට ඉර හඳ හැදෙනවා. එතකොට දැන් අරයා ඊට කලින් හිතලා, ලෝකෙය හැදෙනවා නම් හොඳයි කියලා. ලෝකයේ ඉර හඳ තියෙනවා නම් හොඳයි කියලා. එතකොට අර ලෝකය හැදෙන ක්‍රියා පටිපාටියට අනුව හිමීට ඉර හඳ හැදෙනවා. එතකොට අරයා හිතනවා මේ ලෝකෙ ඉර හඳ කියලා දෙයක් තිබ්බෙ නෑ, මමයි හිතුවෙ ඉර හඳ තියෙනවා නම් හොඳයි කියලා. ඊටපස්සෙ ඉර හඳ පහළ වුනේ. ඉරහඳ මැව්වෙ මමයි. එතකොට දැන් මේක මොකද කරන්නෙ දැන්? දැන් මේක කවුද කියලා දෙන්නේ? දැන් එයා හිතන එකේ වැරැද්දක් තියෙනවාද? පුදුම සහගතයි,

පහදින්න ඕන බුදුරජාණන් වහන්සේට. මේවා දන්නවා දකිනවා. දැන් ඉන්නකො බලන්න ඊළඟට වෙන දේ. දැන් ඔන්න බ්‍රහ්මයා හිතුවානෙ මමයි ඔක්කෝම ටික මැව්වෙ ඇයි මම හිතුවට පස්සෙනෙ මෙයාලා ඉපදුනේ කියලා. ඊටපස්සෙ අර පස්සෙ ඉපදිච්ච අයට හිතෙනවා මෙයා තමයි මහා බ්‍රහ්මයා. මෙයා තමයි ඔක්කොම මවන කෙනා. ඊටපස්සෙ මෙයා තමයි අපගේ දෙව් පියාණන්. මොකද හේතුව? මෙයා තමයි ඉස්සෙල්ලා මේ ලෝකයේ පහළ වෙලා හිටපු කෙනා. ඊළඟට මෙයාලු හිතුවේ අපිව පහළ වෙන්න කියලා. ඊටපස්සෙලු අපි පහළ වුනේ. අපිව මැව්වේ මෙයා කියලා ඒ අයත් අන්න මහා බ්‍රහ්මයා අපිව මැව්වා කියන ඒ අදහසට එනවා. දැන් කවුද ලිහින්නෙ? දැන් මොකක්ද එයාලා හිතපු එකේ තියෙන වැරැද්ද. ඇයි ජේන දකින දේවල් වලින්. ඉතින් ඊටපස්සෙ මෙන්න මේ විදියට අරයා මැව්වා කියන අදහස එනවා. ඊටපස්සෙ මෙයාලා අපිව මැව්වා කියලා පිළිගන්නවා. අරයත් ඒ අදහසේ ඉන්නවා, ඊටපස්සෙ පස්සෙ පහළ වෙච්චි අයත් ඒ අදහස ගන්නවා. පින්වත් මහණෙනි, එහි යම් සත්ත්වයෙක් මුලින්ම ඉපදුනා නම්, ඔහු ඉතාමත් දිගු ආයුෂ වලින් යුක්තයි. ඉතාමත් සුන්දරයි. ඉතාමත් මහේශාක්‍යයි. නමුත් යම් ඒ සත්ත්වයන් පසුව ඉපදුනා නම්, ඒ අය ආයුෂයෙන් අල්පයි, එච්චර ලස්සන වුනෙත් නෑ. අල්පේශාක්‍යයි. පින්වත් මහණෙනි, යම් සත්ත්වයෙක් ඒ ලෝකෙන් චුත වෙලා මේ මනුස්ස ලෝකෙට පැමිණෙනවා යන කරුණ විද්‍යමාන වන දෙයක්. ඔන්න ඉස්සෙල්ලාම ඉපදුනානෙ අර බ්‍රහ්මයා. එයා ලස්සනයි, ආයුෂ වැඩියි. ඉස්සෙල්ලාම, දැන් වුනත් එහෙමනෙ. ඉස්සෙල්ලාම ඉපදුනු අයගෙ ආයුෂ වැඩියිනෙ. පස්සෙ ඉපදෙන අයගේ ආයුෂ අඩුයිනෙ අදටත්. ඊටපස්සෙ බ්‍රහ්ම විමානනෙ. ඊටපස්සෙ මොකද වෙන්නෙ පස්සෙ ඉපදුනු අය එහෙන් චුත වෙනවා. අරයගේ ආයුෂ තියෙනවා, මෙයාලාගේ ආයුෂ ඉවරවෙනවා, පස්සෙ ඉපදිච්ච අයගේ. ඒ අය ආයුෂ අවසන්වෙලා, ආන්න දැන් පෘථිවියේ ආයුෂ ඉවරවෙලා තියෙන්නෙ. පෘථිවියේ උපදිනවා. ඉපදිලා මෙයාලගෙන් කෙනෙක්, කවුරුහරි කෙනෙක් ප්‍රව්‍රජා ජීවිතයක් වගේ ගත කරලා ප්‍රව්‍රජා ජීවිතයකට ඇවිල්ලා භාවනා කරනවා, භාවනා කරනකොට, කරනකොට හොඳට හිත සමාධිමත් වෙලා එක ජීවිතයක් ජේනවා. ඊටපස්සෙ එක ජීවිතයක් දැන් ජේන්න ගන්නවා. ඊටපස්සෙ ජේන්න ගන්නකොට මොකද වෙන්නෙ? එයාලාට ජේනවා අපි කලින් හිටියේ බ්‍රහ්ම ලෝකෙ. එතකොට අපිට මවපු බ්‍රහ්මයෙක් හිටියා. දැන් එතකොට එයාලට හිතෙනවා සමාධියෙන්. එතකොට මොකද වුනේ? ඒ බ්‍රහ්මයා තාම ඉන්නවා. අපි තමයි චුත වෙලා මැරුනේ. එතකොට මෙයාගේ

අදහස මොකද? බ්‍රහ්මයා නිත්‍යයි. දෙවියන් වහන්සේ නිත්‍යයි, අපි අනිත්‍යයි. ආන්න දෘෂ්ටියට ආවා. ඇයි ඒ දිවැසින් එක ජීවිතයක් පේනවානෙ. එයා තවම ඉන්නවානෙ බ්‍රහ්ම ලෝකෙ. අපිනෙ එහෙන් චුත වෙලා මෙහෙ ආවෙ. එහෙම නම් අපිව මවපු කෙනා නිත්‍යයි, සදතනිකයි, ස්ථිරයි. ඔහු ස්වර්ගයේ සිටිනවා. අපි අනිත්‍යයි කියලා දැන් මේ අය මේ දෘෂ්ටියට ආවෙ කවුරුත් කියලද, කවුරුත් ඔලුවට දාලාද? නෑනෙ. තමන්ම දැක්කානෙ සමාධියෙන්. ඕක ඔහොම නෙවෙයි කියලා කියන්න පුලුවන් ඒ අයගේ ලෝකෙ ඉන්නවද එක්කෙනෙක්වත්. අර බ්‍රහ්මයාටවත් මේක කියන්න පුලුවන්ද? කිසි කෙනෙකුට අගක් මුලක් කියන්න බෑ. පුදුම සහගතයි. මේවගෙන් ගැලවෙන්නෙ කොහොමද? එතකොට කොහොමහරි එයා දකින සමාජයෙන් එයා හැඟීමකට එනවා බ්‍රහ්මයා දෙවියන් වහන්සේ නිත්‍යයි, සදාතනිකයි, ස්ථිරසාරයි, ඒ අය ස්වර්ගයේ ඉන්නවා, අපි තමයි මැරි මැරී යන්නෙ, අපි තමයි අනුගාමිකයෝ කියලා. එතකොට කොටසක් නිත්‍යයි, කොටසක් අනිත්‍යයි. කොටසක් සාස්වතයි අනිත් කොටස සාස්වතයි කියලා ඔන්න දෘෂ්ටියට එන පළවෙනි ක්‍රමය. ඔන්න මැවුම්වාදය. ඉතින් පින්වත්නි බුදුරජාණන් වහන්සේ මේක දන්නවානේ, දකිනවානේ, අවබෝධ කලානෙ. ඉතින් ඒ නිසා පින්වතුනි මේක නම් පුදුම සහගතයි. ඊටපස්සෙ ඔන්න බලමු, දෙවැනි, ඊළඟ එක. ඊළඟට දෘෂ්ටිය හටගන්න හැටි. ඔන්න ලෝකයේ සාස්වතයි අසාස්වතයි, ඒ කියන්නෙ කොටසක් නිත්‍යයි කොටසක් අනිත්‍යයි කියන කොටසක් ඇත කොටසක් නැත කියන දෘෂ්ටියට එන පළවෙනි ක්‍රමය මැවුම්වාදය. දෙවෙනි ක්‍රමය තමයි ඔන්න ඉන්නවා. පින්වත් මහණෙනි, බුදුරජාණන් වහන්සේ වදාළා සන්ති භික්ඛවේ කිඩ්ඩාපදෝසිකා නාම දේවා, දිව්‍යලෝකයක් තියෙනවා, ඒ දිව්‍යලෝකෙ නම තමයි කිඩ්ඩාපදූසික. ඒ කියන්නෙ, කිඩ්ඩාපදූසික කියන්නෙ, ඒ දිව්‍යලෝකෙ ඒ අය ගොඩාක් කෙළිදෙලෙන් ඉන්නෙ, සෙල්ලම් කරනවා, සතුටු වෙනවා, ක්‍රීඩා කරනවා ගොඩාක්. කෙළිදෙළෙන් ඉන්නකොට ඒ කෙලිදෙලෙන් ඉන්න එකේම ඉඳලා එයාලාට ආහාර ගන්න අමතක වෙනවා. ඉතින් ඒක වෙන්න බැරිද? කාටූන් බල බලා ඉන්නවා ළමයි කන්නැතිව ඉන්නැතිද? චිත්‍රපටි බල බලා ඉන්නවා ළමයි කන්නැතිව ඉන්නැතිද. කොල්ලො ෆෝන් එකේ රෑ එලිවෙනකල් ඉන්නවා රෑ නිදාගන්න අමතක වෙන්නැද්ද? ඉතින් වෙනවානෙ. අර කිඩ්ඩාපදූසික දෙවිවරුන්ට දිව්‍ය ආහාර ගන්න අමතක වෙනවා කියනවා සෙල්ලම් කර කර ඉඳලා. එහෙම වෙනකොට ඒ ආහාර නැතිවීමෙන් චුත වෙනවා. ආන්න ඒ දෙවිවරුන්ට කියනවා කිඩ්ඩාපදූසික කියලා. කේ අතිවේලං

හස්ස කීඩාරති ධම්ම සමාපන්නා විහරන්ති, ගොඩාක් වෙලා හිනාවෙවී කෙලිදෙලෙන් වාසය කරනවා. තේසං අතිවේලං අස්ස කිඩ්ඩාපරති ධම්ම සමාපන්නං විහරතං සතිමුස්සති. එතකොට සිහිය නැතිවෙනවා එයාලට. සතියා සම්මෝසාතේ දේවාතම්මා චායා කායාවාති, ඊටපස්සෙ ඒ සිහිමුලාවෙලා ආහාර පානයක්වත් ගන්නැතිව ඒ දිව්‍යලෝකෙන් චුත වෙනවා. චුතවෙලා ඒ අයත් උපදිනවා මනුස්ස ලෝකෙ. මනුස්ස ලෝකෙ ඉපදිලා මෙයාලාත් මොකද කරන්නෙ, ඔන්න භාවනා කරනවා. සිත එකඟ කරනවා. එකඟ කරලා එක ජීවිතයක් ජේන සමාධියක් ගන්නවා. එතකොට ඒ සමාධිය අරන් බලනවා කලින් හිටපු ජීවිතේ. අම්මේ ජේනවා කිඩ්ඩාපදූසික දෙවිවරු. අපිට මොකද වුනේ කියලා බලනවා. සෙල්ලම් කර කර ඉඳලා කන බොන එක අමතක වෙලා දිව්‍ය ආහාර ගන්න එක අමතක වෙලා චුත වෙලා මෙහෙ ආවා. ඊටපස්සෙ කල්පනා කරනවා. යම්කිසි කෙනෙක් කෙළිදෙලෙන් වාසය කරලා ආහාර ගන්න සිහිමුලා වෙලා ඉන්නවා නම් ඒ අය චුත වෙලා ඉපදෙනවා. ඒ වාගේ කෙළිදෙලෙන් ඉන්නැති අය එහේ තවම ඉන්නවා. එයාලා නිත්‍යයි, අපි අනිත්‍යයි. පුදුම සහගතයි. දැක්කද දෘෂ්ටියකට ආපු හැටි. කොහොමද දෘෂ්ටියකට ආපු හැටි. එයා හිතනවා ඒ සෙල්ලම් කර කර ඉඳලා කන්නෙ බොන්නෙ නැති අය අනිත්‍යය වෙනවා. පාඩුවෙ ඉන්න අය නිත්‍ය වෙලා ඉන්නවා එහෙ. ඒක සදාතනිකයි. ඒකයි ස්වර්ගය. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාලා ඔන්න කොටසක් සාස්වතයි කොටසක් අසාස්වතයි කියලා ඔන්න දෘෂ්ටිය ඇතිවෙන දෙවෙනි ක්‍රමය. තුන් වෙනි ක්‍රමය තමයි බුදුරජාණන් වහන්සේ වදාළා සන්තිදේවා මනෝපදූසිකා. බුදුරජාණන් වහන්සේ වදාළා මනෝපදූසික කියලා දෙවිවරු කොට්ඨාශයක් ඉන්නවා. එතකොට ඒ මනෝපදූසික දෙවිවරුන්ගේ ස්වභාවය තමයි පින්වත්නි, ඒ මනෝපදූසික කියලා කියන්නෙ දෙවිවරු හොඳ සන්තෝෂෙන්, ඉතින් දිව්‍ය සැප විඳිමන් ඉන්නවා. යම් වෙලාවක තරහක් ආවොත්, මනුස්ස ලෝකෙ නම් දැන් බැනගන්නවා, ගහගන්නවා, මරාගන්නවානෙ. ඒ දිව්‍ය ලෝකෙ එහෙම නෑ. ඒ දිව්‍යලෝකෙ තියෙන්නෙ තරහා ආව ගමන් අනිත් එක්කෙනා දිහා එක දිගට බලාගෙන ඉන්නවා. තරහෙන් බලා ඉන්නවා. බලාගෙන ඉන්නකොට චුතවෙනවා. ආයුෂ තියෙන්නේ තරහ එනකල්. තරහා ආව ගමන් නැති වෙනවා දීර්ඝායුෂ. මනස කිලිටි වෙච්චි ගමන් දිව්‍ය ජීවිතෙන් චුතවෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාලා සන්තිභික්ඛවේ මනෝපදූසිකා නාම දේවා තේ අතිවේලං අඤ්ඤමඤ්ඤං උපනිජ්ජායන්ති. එකිනෙකා කෙරෙහි වැඩිපුර බලාගෙන

ඉන්නවා. තේ අතිවේලං අඤ්ඤමඤ්ඤං උපනිජ්ඣායන්තා අඤ්ඤමඤ්ඤම්හි චිත්තාමි පදුසෙන්ති, එකිනෙකා දිහා බලාගෙන ඉන්නකොට හිත ක්‍රෝධයෙන් දූෂ්‍ය වෙලා යනවා. තේ අඤ්ඤමඤ්ඤංපි පදුප්පචිත්තා ඉලන්තකායා. එකිනෙකා දිහා බලන් ඉඳලා කය ගොඩාක් දුර්වලා වෙනවා. ඉලන්තචිත්තා, හිත ගොඩාක් ක්ලාන්ත වෙනවා. යේ දේවා තම්හා කායා චමන්ති, එතනින් චුත වෙනවා මනුස්ස ලෝකෙ උපදිනවා. තානම් කෝ පනීතං භික්ඛවේ විජ්ජතියං අඤ්ඤතරෝ සත්තෝ ධම්මකායා ඉද්දත්තං ආගන්ති, ඔක්කොම නෙවේ, අඤ්ඤතරෝ එක්තරා පිරිසක් මනුස්ස ලෝකෙ උපදිනවා. ඊටපස්සෙ මෙයාලගෙන් එක්කෙනෙක් ඔන්න හොඳට භාවනා කරනවා. භාවනා කරනකොට එක ජීවිතයක් පේනවා. ඒ ජීවිතෙන් පේනකොට මෙයාට පේනවා, අම්මේ මනෝප්පදූසික කියලා දිව්‍යලෝකයක් තියෙනවා. ඒ ලෝකයේ ඉන්න අය සන්තෝෂෙන් ඉන්නෙ. එතකොට අපිට වුනේ අපි ඒ කාලේ එකිනෙකා කෙරෙහි තරහෙන් බලාගෙන හිටියා. එතකොට අපේ හිත දූෂ්‍ය වුනා. ඊටපස්සෙ හිත දූෂ්‍ය වෙලා චුත වෙලා අපි මේකෙ ඉපදුනා. අනිත් අය තාම ඉන්නවානෙ. ඒ නිසා එකිනෙකා කෙරෙහි තරහෙන් බලාගෙන ඉන්න අය ඉන්නවා නම් ඒ අය අනිත්‍යයි. අනිත්‍යයි නිත්‍යයි. අන්න කොටසක් නිත්‍යයි, කොටසක් අනිත්‍යයි කියලා සාස්වත අසාස්වත, ඒ දෘෂ්ටි දෙකම, අදහස් තියෙන දෘෂ්ටියට ආව තුන්වෙනි ක්‍රමය. කවුද ඕවා විග්‍රහ කරන්නෙ? කවුද ඕවා කියලා දෙන්නෙ? දැන් අර මවපු බ්‍රහ්ම පියාණන්ටවත් පුලුවන්ද. දැන් මේවා කියලා දෙන්න. කියලා දෙන්න බෑ. මේ හැමදෙයක් බුදුරජාණන්වහන්සේ දැක්කා ප්‍රඥාවෙන්. අවබෝධ කලා. ඊටපස්සෙ හතරවෙනි ක්‍රමය තමයි ඔන්න එක්කෙනෙක් ඉන්නවා. එක්කෙනෙක් ඉඳලා මෙයා මොකද කරන්නෙ ගොඩාක් තර්ක කරනවා. තර්ක කර කර, තර්ක කර කර තර්ක කරලා, කරලා ඔන්න එයා ලෝකෙට අදහසක් දානවා මොකක්ද අදහස? මේ ලෝකෙ තියෙනවා නම් ඇස කියලා එකක් ඒක අනිත්‍යයි. ඊළඟට සෝත - කණ, නාසය, දිව, කය මේවා අත්තා, අනිච්ඡෝ, අද්දතෝ, අස්සතෝ, විපරිණාම ධම්මො. අනිත්‍යයි, ඊළඟට ස්ථිර සාර නෑ, වෙනස් වෙනවා. මේ ඇහැ, කණ, නාසය, දිව, කය, මනස. හැබැයි දැන් මෙයා කියනවා, තර්ක කර කර හිතන්නෙ. ඇයි දැන් මෙයාට ඇහැ අනිත්‍යය වෙනවා පේනවානෙ. කණ නාසය දිව කය වෙනස්වෙනවා පේනවානෙ. මෙයා කල්පනා කරලා කල්පනා කරලා මෙයා කියනවා ඇස අනිත්‍යයි. ඒ වුනාට චිත්තන්තිවා මනෝතිවා විඤ්ඤාණන්තිවා, සිත කියලා යමක් තියෙනවාද, මනස කියලා යමක් තියෙනවාද, විඤ්ඤාණය කියලා යමක් තියෙනවාද, ඒකා අත්තා,

ආත්මයි. නිච්චෝ, නිත්‍යයි. දුවෝ ස්ථිරසාරයි. සස්සතෝ, ඒක තියෙනවා ඇත. විපරිණාම ධම්මෝ, ඒ කියන්නෙ වෙනස් වෙන් නෑ. ඒ කියන්නෙ ඇස කණ නාසය දිව අනිත්‍යයි, මනස, හිත විඥ්ඥාණය කියන එක නිත්‍යයි. අන්න කොටසක් සාස්වතයි, කොටසක් අසාස්වතයි. කොටසක් ආත්මයි, කොටසක් අනාත්මයි කියන දෘෂ්ටියට ආපු හතරවෙනි ක්‍රමය. ඔන්න ඔය ක්‍රම හතරින් තොරව ලෝකයේ ආයෙ ඔය සම්බන්ධයෙන් දෘෂ්ටි ඇතිවෙන් නෑ. වෙන එකක් නෑ. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, පින්වත් මහණෙනි, මම ඕක දන්නවා, අවබෝධ කලා. ඊටපස්සෙ අවබෝධයෙන්ම දන්නවා. ඒ කියන්නෙ මේ දෘෂ්ටි ඇතිකරගෙන ඔය දෘෂ්ටියෝ හිත හිතා ඉඳලා මේ අය ඊටපස්සෙ යන මැරිලා යන ලෝකත් බුදුරජාණන් වහන්සේට පේනවා. ඊටපස්සෙ මීට වඩා උත්තරීතර දේවලුත් බුදුරජාණන් වහන්සේට පේනවා. හැබැයි බුදුරජාණන් වහන්සේට ඒක අවබෝධ වුනා කියලා බුදුරජාණන් වහන්සේ තණ්හාවෙන් ග්‍රහණය කරගෙන නෑ. ඒ දැනීම මම දන්නවා, දකිනවා, මට අවබෝධ වුනා කියලා බුදුරජාණන් වහන්සේට තෘෂ්ණාවෙන් ග්‍රහණය කරගැනීමක් නෑ දැනුම, මේ දැක්ම. මේක අවබෝධයක්නෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ මේ කිසිම දෘෂ්ටියකට අහුවෙන්නැති නිසා, සියලු දෘෂ්ටි වලින් නිදහස් වුනු නිසා, අභ්‍යන්තරයෙන් නිවිලා ඉන්නෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේ මේ දෘෂ්ටි ස්පර්ශය නිසා හටගන්නා වූ වේදනාවන්ගේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය දන්නා නිසා, දකිනා නිසා, අවබෝධ වෙලා නිසා කෙලෙස් රහිතව සියල්ලගෙන් නිදහස් වෙලා ඉන්නෙ. කොහොමද අපේ බුදුරජාණන් වහන්සේ. කොහොමද හිතාගන්න බෑ පින්වතුනි මේ ඥාණ සමුදාය. හිතාගන්න බෑ මේ අවබෝධය. එතකොට වෙන ආගමක වුනත්, වෙන දර්ශනයක වුනත් ඒ අයට බුදුරජාණන් වහන්සේ ගැන විශ්වාසයක් ආවොත් එයාලගේ ගැටේ ලෙහාගන්න පුලුවන්. නැත්නම් බැමයි. දැන් හිතන්න මේ දෘෂ්ටි වල පැටලිච්චි අයට දෘෂ්ටිය ලිහාගන්න අවශ්‍යම දේ මොකක්ද? ශ්‍රද්ධාව. තව එකක් මතක තියාගන්න සෝවාන් නොවෙන තාක් කල් මේ ලෝක සත්ත්වයා ඉන්නෙ ඇත නැත කියන දෘෂ්ටි දෙකේ. මිනිස්සුන්ට හිත විග්‍රහ කරගන්න බැරිවුනා මිසක්කා, තමන්ගේ දෘෂ්ටිය විග්‍රහ කරගන්න බැරිවුනා මිසක්කා ඇත නැත කියන දෘෂ්ටියේ සිටින්නෙ. මේ ඇත නැත කියන දෘෂ්ටි දෙක නැතිවෙන්නේ පටිච්ච සමුප්පාදය, හේතුඵල දහම අවබෝධ කලොත්. එතකොට ඒකට තියෙන ලොකුම සුදුසුකම, එහෙනම් ඔය ගැටේ ලිහාගන්න මේ මැවුම්වාද එකේ ඉන්න කෙනෙකුට ඒක ලිහාගන්න මේක කොහොමද ඇතිවුනේ කියලා

විශ්වාස කරන්න එපැයි කියන කෙනා ගැන, විස්තර කරන කෙනා ගැන. විස්තර කරන්නෙ බුදුරජාණන් වහන්සේනෙ, ශ්‍රද්ධාව ඕන ද නැද්ද? එතකොට වෙන ආගමක ඉන්න කෙනෙකුටත් තමන්ගේ ආගම්වාදය ලිහාගන්න ශ්‍රද්ධාව ඕන නම්, අපිට කොහොමටත් නිවන් දකින්න ශ්‍රද්ධාව ඕන. විශ්වාසය ඕන. ඒකනෙ මං හේතු සහිතවමයි ධර්මය දේශනා කරන්නෙ, හේතු රහිතව නොවෙයි. ප්‍රාතිහාර්ය සහිතවමයි ධර්මය දේශනා කරන්නෙ, ප්‍රාතිහාර්ය නැතිව නොවෙයි. විශේෂ අවබෝධයෙන්මයි ධර්මය දේශනා කරන්නෙ, විශේෂ අවබෝධයක් නැතිව නෙවෙයි කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කරනකොට දසදහසක් සක්වලවල් හෙල්ලෙන්න ගත්තානෙ. මේ අවබෝධය දිහා බලන්න. මේ ආගම් ටික විස්තර කරලා අවසන් වෙනකොට මිහිමඩලට දරාගන්න බැරිවුනා ඔච්චර කාලෙකට ඔය ආගම් හැටදෙක විස්තර කරලා නෑ කවුරුත්. සත්‍ය ස්වභාවයෙන්ම විස්තර කරලා නෑ. සත්‍ය ස්වභාවයෙන්ම බුදුරජාණන් වහන්සේ විස්තර කරපු ගමන් දස දහසක් සක්වලවල් හෙල්ලෙන්න ගත්තානෙ. දැන් ආගම් අටක් අපි දැන් විස්තර කලා. පින්වතුනි මේක හොඳට සිහිබුද්ධියෙන් අහගන්න. මේකනම් අහන්නත් පිනක් ඕන. මේක හොඳට කල්පනාවෙන් ඉන්නකොට තමයි මේක තේරෙන්නෙ, ඉතින් ඉස්සෙල්ලා අහන්න ලැබෙන එක ගැන සතුටු වෙන්න. ඊටපස්සෙ පොත්පත් වලින් හොඳට කියවන්න. හැබැයි නුවණින් හොඳට අහගෙන ඉන්න, හැබැයි තේරෙන විදියට මේ කියන්නෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝකෙ තවත් තියෙනවා, දැන් ඔන්න ඔක්කොම කිව්වානෙ, බුදුරජාණන් වහන්සේ මේ දේශනා කරන්නෙ පෙර ජීවිත මුල් කරගෙන, ආගම් දහඅටක් ඇතිවෙනවා. ඉදිරියට මැරුණට පස්සෙ යන ජීවිත මුල් කරගෙන ආගම් හතලිස් හතරක් ඇතිවෙනවා. එතකොට දැන් මේ විස්තර කරන්නෙ පෙර ජීවිත මුල් කරගෙන. ඔන්න සාස්වතයි කියලා ආගම් හතරක් ඇතිවුනා. ඒ ක්‍රමය කිව්වා. කොටසක් නිත්‍යයි කොටසක් අනිත්‍යයි කියන එක මුල් කරගනෙ ආගම් හතරක් ඇතිවුනා. ඒක තමයි දැන් කිව්වෙ. දැන් කියනවා, දැන් විස්තර කරනවා, ලෝකයේ කෙළවරක්, දැන් තවත් ආගම් කොටසක් ඇතිවෙනවා ලෝකයේ කෙළවරක් තියෙනවා, එහෙම නැත්නම් ලෝකෙයේ කෙළවරක් නෑ. මේ සක්වලේ කෙළවරක්. මේ සක්වලේ කෙළවරක් තියෙනවා, කෙළවරක් නෑ කියන තැනට මේ ලෝකයේ දෘෂ්ටි හතරක් ඇතිවෙනවා, පහක් නෑ. ලෝකෙ කෙළවරක් ඇත නැත කියන අදහස මුල් කරගෙන ආගම් හතරක් තියෙනවා, ආගම් පහක් නෑ ආගම් හතරයි. ඒ කොහොමද හතරක් ඇතිවෙන්නෙ? ඔන්න

කෙනෙකුට අදහසක් ඇතිවෙනවා මේ ලෝකෙයේ කෙළවරක් ඇත කියලා. එතකොට මේක හරී පුදුම සහගත දෙයක් පින්වතුනි, මේක හොඳට නුවණින් තේරුම් ගන්න, ඒ තමයි මේ භාවනාවෙන් මුලාවෙන හැටි හොඳට තේරුම් ගන්න පුලුවන්. භාවනාව, අද කාලයේ එක එක මාර්ගඵල වලට පත්වුනා කියලා, පස්සෙ කාලෙ විකාර කරනවා. ඊළඟට එක එක රූප පේනවා, නොපෙනෙන ලෝක පේනවා කියලා එහෙම තේරුම් විදිය මිනිස්සුන්ගේ හිත්වලට යනවානෙ. ඒක වෙන්නෙ කොහොමද කියලා තියෙනවා. මේක හොඳට නුවණින් අහන්න. ඉද භික්ඛවෙ ඒකච්චෝ සමනෝභාවා බ්‍රාහ්මණෝවා ආතප්පමන්වාය පදානමන්වාය අනුයෝගමන්වාය අප්පමාදමන්වාය සම්මා මනසිකාර මන්වාය. ඔන්න කෙනෙක් ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හොඳට වීර්යය කරලා ගොඩාක් මහන්සි වෙලා කෙලෙස් තව තවා තව තවා හොඳ චේතෝ සමාධියෙන්, හොඳ චිත්ත සමාධියක් උපද්දවාගන්නවා. යථා සමාහිතේ චිත්තේ අන්ථ සංඥේ ලෝකස්මිං විහරති, එතකොට එයාට සමාධියක් ඇතිවෙනවා එයාගේ සංඥාව තමයි ලෝකයක් ඇත කියලා. එයාගේ හිතේ තියනවා අන්තසංඥ, ලෝකයේ කෙළවරක් තියෙනවා කියන සංඥාවෙන් තමයි එයා සමාධිය උපදවාගන්නෙ. ඒ කියන්නෙ එයා සමාධිය උපද්දවාගන්නකොට එයාට හැඟීමක් තියෙනවා, ලෝකයේ කෙළවරක් තියෙනවා කියලා. ඊටපස්සෙ දැන් ඔන්න හොඳට සමාධිය ඇතිවෙනවා. අන්තවා අයං ලෝකෝ පරිවට්ඨමෝතං කිස්ස හේතු, ඊටපස්සෙ මෙයාට ඒ සමාධියෙන් පේනවා ඒ භාවනාවෙන් පේනවා ලෝකයේ කෙළවරක් තියෙනවා රවුමට තියෙන්නෙ මේ සක්වල මෙයාට පේනවා. ඊටපස්සෙ තථාරූපං චේතෝ සමාධි, මේ විදියේ චේතෝ සමාධියක් මෙයා ලැබුවා. මෙයා ලබලා මෙයා ලෝකෙට අදහසක් දේශනා කරනවා ලෝකයට කෙළවරක් තියෙනවා. ඇයි ඒ? මම සමාධියක් ලැබුවා, ඒ සමාධියෙන් මම දැක්කා ලෝකෙ කෙළවරක් තියෙනවා. මේක රවුමට තියෙන්නෙ. එතකොට මේකෙ ප්‍රශ්නෙ මොකක්ද? මේකෙ ප්‍රශ්නෙ තමයි, මෙයා කලින්ම හිතුවා ලෝකෙට කෙළවරක් තියෙනවා කියලා. ඒ හිතපු එකම සමාධියෙන් පෙනුනා. දැන් මම ඒක විස්තර කරන්නම්කො පරිවර්තනය. ඇතැම් ශ්‍රමණයෙක් වේවා බ්‍රාහ්මණයෙක් වේවා කෙලෙස් තවන වීර්යයෙන් යුතුව අධික වීර්යයෙන් යුතුව යළි යළිත් වීර්යය කොට අප්‍රමාදීව භාවනා කොට මැනැවින් මනසිකාර කරලා යම් අයුරකින් සිත සමාහිත කරලා ලෝකයේ කෙළවරක් ඇත යන හැඟීමෙන් වාසය කරනවා නම් එවැනි චිත්ත සමාධියක් ඇති කරගන්නවා. එයාගේ චිත්ත සමාධිය වැඩෙන්නෙ ලෝකයක් ඇත කියන

සංඥාවෙ තමයි. එතකොට ඔහු කියනවා මේ ලෝකෙ කෙළවරක් සහිතයි. හාත්පසින් වටවෙලා තියෙන්නෙ. ඒකට හේතුව මොකක්ද? මං අමාරුවෙන් උපද්දවාගත්තු සමාධියෙන් මං ඒ විදියට තමයි දැක්කෙ. මේ කාරණය නිසයි මං මේ දන්නේ දකින්නේ, මං මේ ලෝකයට කෙළවරක් තියනවා, මේක හාත්පසින් රවුම් වෙලා තියෙන්නෙ කියලා. එහෙනම් මේ ලෝකෙ බැයිද කෙනෙකුට අපි කියමුකෝ කෙනෙකුට රාවණා ඉන්නවා කියලා, ඒ හැඟීම තියෙනවා එයාට, එයා භාවනා කරනවා, එයාට භාවනාවෙන් ඇවිල්ලා කතා කරන්න බැරිද? ඇයි දැන් මේ වෙලා තියෙන්නෙ. එයාගේ හිතේ තිබ්බ අදහස තුළම හිත එකඟ වුනානෙ. එහෙනම් අපි ඉතිහාසය වැරදියි කියලා භාවනා කරනවා. කරුණු එන්න බැරිද? ඊළඟට මේ ලංකාවේ තමයි බුදුන් උපන්නේ කියලා හිතාගෙන භාවනා කරනවා, කරුණු එන්න බැරිද? පුදුම සහගතයි, කවුද මේ ගැට ලිහින්නේ? ලේසි නෑ පින්වතුනි, පුදුම සහගතයි, මේ බුදු කෙනෙක් අවබෝධ කරනවා මිසක්කා. මේ ධර්මය අපි කියනවා, මේ සමාජයේ තියෙන දෘෂ්ටි නම් ඒ දෘෂ්ටි නම් අගක් මුලක් කොහෙන් ලිහින්නද කියලා හිතාගන්නවත් බෑ, ඕන එකක්, මෙන්න ධර්මය. කවුද මේවා ලිහින්නෙ? ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා දැන් අනිත් එක්කෙනා, දැන් තව එක්කෙනෙක් ඉන්නවා. ඒ වාගේ හතර දෙනෙක් ඉන්නවා ඒ දෘෂ්ටි ඇතිවෙන. එයා මොකද කරන්නෙ, ලෝකයට කෙළවරක් නෑ කියලා ඒ අදහසින් භාවනා කරනවා. එයාගෙ හිත සමාධිමත් වෙන්නෙ ලෝකෙට කෙළවරක් නෑ කියලා. එතකොට එයාගේ සමාධියෙන් සක්වල කෙළවරක් පේන්නෑ, එතකොට එයා ලෝකෙට අදහසක් දක්වනවා ලෝකෙට කෙළවරක් නෑ. එතකොට කවුරුහරි කිව්වා නම් මේ ලෝකෙට කෙළවරක් තියෙනවා කියලා, අපි ඉස්සෙල්ලා එක්කෙනා කිව්වෙ අදහසක්. ඒක බොරු මං කියන එක තමයි හරි, ඇයි මං සමාධියෙන් දැක්කා. ඔන්න එයාට අනුගාමිකයෝ ටිකක් එනවා. ඔන්න ඒ ආගම. තව එක්කෙනෙක් භාවනා කර කර ඉන්නකොට එයා ලෝකෙට කෙළවරක් තියෙනවද නැද්ද කියන අදහසින් භාවනා කරනවා. එයාට භාවනාවට පේනවා උඩටයි යටටයි කෙළවරක් නෑ, හරස් අතට කෙළවරක් තියෙනවා. පුදුම එකක් ඒකත්, සිලින්ඩරාකාර වගේ. එතකොට එයාලා කියනවා මේ ලෝකෙට කෙළවරක් තියෙනවා කියපු අයත් වැරදියි, කෙළවරක් නෑ කියපු අයත් වැරදියි. මේ ලෝකෙට කෙළවරක් ඇත නැත. ඒ කියන්නෙ උඩට කෙළවරක් නැත, මේ පැත්තට කෙළවරක් ඇත. මගේ ආගම තමයි හරි. ඒ අයට අනුගාමිකයො ටිකක් හැදෙනවා. දැන් ඔය කිසිම තැනක ජීවිතාවබෝධයක් තියෙනවාද? අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ

චතුරාර්ය සත්‍යය ධර්මය දේශනා කොට වදාළා. පුදුම සහගතයි. දුකින් නිදහස් වීම වදාළා. අමා මහ නිවන වදාළා. දැක්කද ලෝකෙ අග. ඊළඟට හතරවෙනි එක්කෙනා එයා තර්ක කරලා තර්ක කරලා එයා කියනවා මේ ලෝකෙට කෙළවරක් ඇත්තෙත් නෑ, නැත්තෙත් නෑ. තර්ක කර කර කියනවා, එයාටත් අනුගාමිකයො ටිකක් හැදෙනවා. ඔන්න ඔය තමයි ක්‍රම හතර, ලෝකෙට කෙළවරක් ඇත, ලෝකෙට කෙළවරක් නැත කියන අදහස් දෙකම මුසු වෙච්ච් ආගම් හතර. මේ වෙනකොට අපි ආගම් දොළහක් ගැන කතා කලා, අද වැඩසටහනින්. එතකොට ඉතුරු ටික අපි ඊළඟ දවසෙ කතා කරගනිමු. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඔය බව දන්නවා. බුදුරජාණන් වහන්සේ දන්නවා මෙයාලා මේ දෘෂ්ටිම සිහි කර කර දෘෂ්ටිම ග්‍රහණය කරගෙන ඉඳලා ඊළඟට ඉපදෙන තැනුත් දන්නවා. බුදුරජාණන් වහන්සේ මේ සියල්ල අවබෝධ කලා කියලා, දන්නවා දකිනවා කියලා බුදුරජාණන් වහන්සේ ඒ බුදුරජාණන් වහන්සේගේ අවබෝධයට බුදුරජාණන් වහන්සේ ග්‍රහණය වෙලත් නෑ. බුදුරජාණන් වහන්සේ මේ කිසිම දෘෂ්ටියකට අහුනොවිච්ච නිසා ඇතුලේ සංසිඳිලා, නිවිලා වාසය කරනවා. බුදුරජාණන් වහන්සේ මේ දෘෂ්ටි වලට අහුවෙලා ඒ දෘෂ්ටි ස්පර්ශය නිසා ඇතිවන වේදනාවන්ගේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණයත් අවබෝධ කරගෙන සියල්ලගෙන්ම නිදහස් වෙලා නික්ලේශීව වාසය කරනවා. අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේගේ අවබෝධය බලන්න. අපිව මේ සියලු දෘෂ්ටි වලින් ග්‍රහණය කරගත්තේ අපේ ශාස්තෘන් වහන්සේ. පුදුම සහගතයි. ඊළඟට තියෙනවා පින්වතුනි තව මේ ආගම් දහඅටෙන් දැනට දොළහයිනෙ. ඊගාවට තව ආගම් හයක් ගැන මේකෙ විස්තර කරනවා, පුදුම හිතෙනවා. දැන් මං මේ දේශනා කියවද්දි, තනියෙන් මං පුදුමයි, පුදුමයි කිය කියා මං මේවා කියෙව්වෙ. එච්චරට හිතාගන්න බෑ බුදුරජාණන් වහන්සේගේ අවබෝධය ගැන. ඒ නිසා පහදින්න. මේ සියලු දෘෂ්ටි වලින් අපිව ගලවාගන්න අපේ ශාස්තෘන් වහන්සේ දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්න. බුදුරජාණන් වහන්සේ සරණ යෑමෙන් සියලු දෘෂ්ටීන්ගෙන් නිදහස් වෙලා අමා මහා නිවනට පත්වේවා.

ඉතින් පින්වත්නි, බ්‍රහ්මජාල සූත්‍ර දේශනාව දීර්ඝයි. අපි ඊළඟ දවසේත් ඊළඟට කොටස සාකච්ඡා කරමු. ඉතින් අපගේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන අපගේ ශාස්තෘන් වහන්සේගේ බුදු ගුණ කඳ. අද දවසේ දහම්

දේශනාව සඳහා දායකත්වය දරන්නේ නො. 48, කජුගහවත්ත, ගොතටුව, අංගොඩ යන ලිපිනයේ පදිංචි පින්වත් එච්.පී.ලංකාදේව මහත්මයා, නර්මදා සුභාෂි මහත්මිය සහ ඩී.ඩී.විජිතා මැණියන් විසින්. ඉතින් අද දවසේ අපි රැස් කරගත්තු අනන්ත අපරිමාණ පුණ්‍ය සම්භාරය, මේ පින්වතුනුත් ධර්ම දානයෙන් රැස් කරගත්තු සියලු පුණ්‍ය සම්භාරය අනුමෝදන් වෙලා බුදුරජාණන් වහන්සේගේ අනන්ත නික්ලේශී භාවයේ ආනුභාවයෙන්, අනන්ත සම්බුදු ඥාණයෙන්, සර්වඥතා ඥාණයෙන්, ලෝකවිදූ ගුණයෙන්, ඒ අනන්ත සම්බුදු ගුණ වල ආනුභාවයෙන්, අපගේ මව්රටටත්, ලෝකයටත් සෙත් වේවා. ව්‍යසන රෝග දුරින්ම දුරු වෙලා මිනිස්සුන්ට සියලු යහපත සැනසිල්ල සැලසේවා කියලා පළමුවෙන් සෙත් පතමු. ඊළඟට පින්වත්නි අපි රැස් කරගන්න යෙදුනා වූ සියලුම පුණ්‍යධර්මයන් ඒකාන්තයෙන් අනුමෝදන් වේවා සියලු දෙවිවරුන්ට, සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වේවා, මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා අපි පින් පමුණුවනවා. ඒ වගේම මියපරලොව ගිය ඥාතීන්ට අනුමෝදන් කරමු පින. වසර 13කට පෙර මියපරලොව ගිය ජී.අමරසේන පියාණන්ට මේ පින් අනුමෝදන් වේවා. පරලෝ වශයෙන් සැපයට පත්වේවා කියලා පින් පමුණුවනවා. පරමපූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ උතුම් ශ්‍රී සද්ධර්මය සරල සිංහලයට පරිවර්තනය කරලා, දැන් අපිට වුනත් පින්වතුනි ලොකු දැනුමක් මේවා සම්බන්ධයෙන් නෑ, ලොකු ස්වාමීන් වහන්සේ මේවා සිංහලට පරිවර්තනය කරලා අපිට මේවා උගන්නපු නිසා, කියලා දුන්නු නිසා තමයි අපිට මේ ධර්මය ගැන වැටහීම, මේ විදියටවත් හිත පහදවගන්න හැකියාව ලැබුනෙ. ඒ නිසා පින්වත් ගුරු දෙවිඳුන් නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා කියලා පින් පමුණුවමු. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර මහා සංඝරත්නයටත්, සිල් මැණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් ගෞතම සසුනේ ධර්මාවබෝධයම වේවා. ඒ වගේම එච්.පී. ලංකාදේව මහත්මයාටත්, නර්මදා සුභාෂි මහත්මියටත්, ඩී.ඩී. විජිතා මැණියන්ටත් මේ පින් අනුමෝදන් වේවා. සුජීවත්ව සිටින දෙමව්පියන් වන එච්.පී. ගුණදාස, ඩී.ඩී. විජිතා, ශාන්ති විපුලගුණ යන දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුවය ඒ දරුවන් ප්‍රාර්ථනා කරනවා. දීර්ඝායුෂ සම්පත්තිය ඒ ඇත්තන්ට සැලසේවා කියලා. පවුලේ දූදරුවන්ටත්, සහෝදර සහෝදරියන්ටත් මේ පින අනුමෝදන් කරනවා. ඉතින් අද දවසේ ධර්ම දානය දීලා මේ රැස් කරගත්ත අනන්ත අප්‍රමාණ පුණ්‍ය සම්භාරයේ

අනුහසින් මේ පින්වතුන් ගෞතම බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ඥාණ සමුදාය ගැන හිතේ පැහැදීම තව තව වඩා වර්ධනය කරගන්න බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ලබාගන්න සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතුවාසනා වේවා කියලා ඔබට පින් දෙනවා. මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රදීන්ට ගුරු භවතුන්ට, ඒ වගේම ලක්විරු ගුවන්විදුලියේ, ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ පින්වතුන්ට, ඒ වගේම මාධ්‍යය පවත්වාගෙන යන්නට උපකාර කරන සියලු දෙනාට කාටත් පින් අනුමෝදන් කරනවා. අපි සියලු දෙනාට මේ දෘෂ්ටි වලින් මිදිලා දෘෂ්ටි ලිහාගෙන පටිච්ච සමුප්පාද ධර්මය, හේතුඵල දහම තේරුම් අරන්, තුන් ලෝකෙට අග්‍ර වූ ශාස්තෘන් වහන්සේ යම් අමා මහ නිවනක් අපිට දේශනා කලාද, ඒ උතුම් නිවන් සම්පත්තිය සළසා ගැනීමට මේ පිනත් හේතු වාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=6Tp0NufZ6KU&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=45

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අපිට කලාතුරකින් තමයි මනුස්ස ජීවිතයක් ලැබුනෙ. කණ කැස්බෑවා විය සිදුරෙන් අහස බලනවාටත් වැඩිය දුෂ්කරයි මනුස්ස ජීවිතයක් ලැබෙන එක. ඉතින් ඒ මනුස්ස ජීවිතයක් ලැබිච්ච වෙලාවේ

බුදුරජාණන් වහන්සේ නමක් ලෝකයේ පහළ වෙලා ධර්මය දේශනා කරපු බුද්ධ කාලයක, බුදුබණ පද ඇහෙන කාලයක ඉපදීම අතිශයින්ම දුර්ලභ දෙයක්. බුදුරජාණන් වහන්සේලාගේ ඒ උතුම් ශ්‍රී සද්ධර්මය ඇහෙන මායිමේ ඉන්න ලැබීම තවත් දුර්ලභයි. ඒ ධර්මය සවන්පත් වලට ඇහෙන එක තවත් දුර්ලභයි. පිරිසිදුව නිරවුල්ව බුදුබණ ඒ විදියටම ඇහෙන එක අතිශයින් දුර්ලභයි. ඒ අතරේ අවබෝධයෙන් යුතුව තෙරුවන් සරණ යන්න ලැබීමත් අතිශයින් දුර්ලභයි. ඒ නිසා ඒ දුර්ලභ කාරණා ඔබට දැන් ලැබිලා තියෙනවා. ඔබ තුළ යම් සංසාරයේ විශාල භාග්‍යයක්, වාසනාවක් ඉස්මතු වෙලා තිබෙනවා. ඉතින් ඒ නිසා ඒ කාරණාව සිහියේ තබාගෙන මේ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පිහිට ලබාගන්න. ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ගම්පහ, පල්ලියපාරේ පදිංචි පින්වත් අනුරාධා බණ්ඩාර මහත්මිය. මියපරලොව ගිය ගයනා රාජසූරිය මැණියන්ට පින් අනුමෝදන් කරන්නටත්, සුජීවත්ව සිටින අයට සෙත් පිණිසත් ඒ ධර්ම දානය අද භාරගෙන තිබෙන්නෙ. ඉතින් බොහෝ පින් රැස් කරගන්නවා අද දවසේ මේ උතුම් ධර්ම දානය මේ ලෝක සත්ත්වයාට අහන්න සැලැස්වීමෙන්, මේ ධර්මය. අපි මේ දවස් ටිකේ කතා කරමින් හිටියේ බුදුරජාණන් වහන්සේගේ ඥාණය. මේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ලෝකයේ ආගම් වල දෘෂ්ටි ලිහින හැටි. එතකොට භාග්‍යවතුන් වහන්සේ මේ ලෝකෙ දෘෂ්ටි හටගන්න විදියත් දන්නවා, ඒ දෘෂ්ටි නැතිවෙන විදියත් දන්නවා, ඒ දෘෂ්ටි වෙනස්වෙන විදියත් දන්නවා. ඒ දෘෂ්ටිය ඇතිකරගත්ත පුද්ගලයෝත් දන්නවා. මේ සියල්ලම අවබෝධ කළා. අවබෝධ කරලා ඒ අවබෝධය කෙරෙහි නොඇලී හිටියා. දැන් මේකෙන් තේරුම් ගන්න බැරිද, කාලකාරාම සූත්‍රයේ බුදුරජාණන් වහන්සේ වදාළානේ මේ ලෝකයේ අහන දකින දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකෙ අහන දකින දේවල් භාග්‍යවතුන් වහන්සේ අවබෝධ කළා කියලා සර්වඥතා බව. ඉතින් මේ අවබෝධ කලේ. ඉතින් ඒ අවබෝධයට භාග්‍යවතුන් වහන්සේ නොඇලුනා කියලා, ඉතින් මේ නොඇලී සිටින්නෙ. එතකොට ඊළඟට ලෝකයා දන්නවා දකිනවා කියන විදියට බුදුරජාණන් වහන්සේ දන්නවා දකිනවා කියලා කිව්වොත් ඒක මුසාවක් කියලා වදාළේ. දැන් ලෝකයා මේ දෘෂ්ටි ගැන දන්නවා දකිනවා. ඒ කියන්නෙ දෘෂ්ටිය දන්නවා, දෘෂ්ටිය දකිනවා. තමන්ගේ ආගම ගැන දන්නවා, තමන්ගේ ආගම දකිනවා. එතකොට තමන්ගේ ආගම ගැන දන්නා දකිනා ක්‍රමය මේ ලෝකෙ මිනිස්සු, ඔය ක්‍රමයටද බුදුරජාණන් වහන්සේ ඒක දැක්කෙ. දැක්කද වෙනස? මේ කාලකාරාම සූත්‍රය විස්තර කරනකොට මුළු ත්‍රිපිටකයම විස්තර

කරන්න පුලුවන් වෙන්නේ ඒකයි. ඒකයි කළුබුද්ධරක්ඛිත මහරහතන් වහන්සේ රැය පහන් වනතුරු සූත්‍රය විග්‍රහ කරන්න ගත්තෙ. රහතන් වහන්සේලාට නම් මුලු ජීවිත කාලෙම මේ ධර්මය විස්තර කරන්න පුලුවන්, ඒ උත්තමයන් වහන්සේලාට මේවා අවබෝධ වුන නිසා. ශාස්තෘන් වහන්සේ කියන්නෙ කවුද කියලා හරියටම දුටුවේ රහතන් වහන්සේලා. ඉතින් පින්වතුනි අපි එහෙනම් අද ධර්ම දේශනාව ආරම්භ කරමු. ඉතින් අපි මෙතෙක් කතා කලේ බ්‍රහ්මජාල සූත්‍රය. එතකොට බ්‍රහ්මජාල සූත්‍රය දේශනා කරන්න මුල තමයි බුදුරජාණන් වහන්සේ රජගහනුවරටත්, නාලන්දාවටත් අතර සංඝයා සමඟ වඩිද්දි පිටිපස්සෙන් සුප්පිය පිරිවැජියයි බ්‍රහ්මදත්ත කියන ගෝලයයි දෙන්නා යනවා. සුප්පිය පිරිවැජියා බුදුරජාණන් වහන්සේට බැන බැන යනවා. ධර්මයට බනිනවා, සංඝයාට බනිනවා. බ්‍රහ්මදත්ත ගෝලයා බුදුගුණ කියනවා, දම්ගුණ කියනවා, සඟගුණ කියනවා. රාත්‍රියේ නවාතැන් ගන්න වුනේ අම්බලට්ඨිකාවේ රාජකාගාරයේ. ඒ රැ එළිවෙනකලුත් අර දෙන්නත් එතෙන්ට වෙලා ගුරා බනිනවා, ගෝලයා ගුණ කියනවා. පහුවදා උදේ මේ සත්ත්වයන්ගේ නානාදිමුක්තකතාවය ගැන සංඝයා කතා කරද්දි බුදුරජාණන් වහන්සේ වැඩලා වදාළා මේ තුණුරුවන්ට බනිද්දි අමනාප වෙන්න එපා. එහෙම අමනාප වුනොත් අසතුටු වුනොත් හරි වැරැද්ද හොයාගන්න බෑ. එතකොට අද වුනත් ඉන්ටනෙට් එකෙන් බුදුරජාණන් වහන්සේට බනිද්දි ශාසනයට බනිද්දි, යහපත් සංඝයාට බනිද්දි එකපාරම කලබල වෙන්න එපා. ඉස්සෙල්ලා බලන්න එයාගේ ෆේස්බුක් එක ෆේමස් කරගන්නද මේ හදන්නෙ. එයාගෙ වීඩියෝ එකේ වීව්ස් ගාන වැඩි කරගන්නද මේ හදන්නෙ. මෙයා ප්‍රසිද්ධ වෙන්නද මේ හදන්නෙ, ඒක තේරුම් ගන්න බැරිවෙනවා එකපාරම අර අදහසට තරහා ආව ගමන්. මාතෘකාවට. වීඩියෝ එකට දාලා තියෙන මාතෘකාව දැක්ක ගමන් එතනින් එහාට සිහි කල්පනාව නෑ. බුදුරජාණන් වහන්සේ වදාළා තුණුරුවන්ට බනිද්දි, ගරහද්දි හිත අවුස්සගන්න එපා. අමනාප වෙන්න අසතුටු වෙන්න එපා. එහෙම වුනාම හරි වැරැද්ද තෝරගන්න බෑ කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාළා තුණුරුවන්ට ගරහද්දි බනිද්දි කල්පනා කරන්න, මේවා තුණුරුවන්ගේ වැරදි විදියට තියෙනවාද, බලනකොට එහෙම එකක් නෑ. එහෙනම් ලිහාගන්න පැටලෙන්නැතිව. ඊළඟට වර්ණනා කරනකොට අමුතු උද්දාමයකට පත්වෙන්න එපා. ඉස්සෙල්ලා බලන්න ඒවා තුණුරුවන් තුළ තියෙනවාද? තියෙනවා නම් ඒ තියෙන දේ අනුමෝදන් වෙලා පටලැවෙන්න එපා, ඒකත් ලිහාගන්න. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ ලෝකයේ මිනිස්සු බුදු ගුණ කියන්න

ගියත්, සීල මාත්‍රයකින්ම බුදු ගුණ කියනවා. චූල සීල, මජ්ඣිම සීල, මහා සීල. ඒක අස්‍රැතවත් පෘථග්ජනයාටත් පුලුවන්. අස්‍රැතවත් පෘථග්ජනයාට තේරුම් ගන්න බැරි බුදුරජාණන් වහන්සේ ගැන ඇත්තටම ගුණ කියනවා නම්, මනාව වර්ණනා කරනවා නම්, කළයුතු දෙයක් තියෙනවා. ඒ තමයි බුදුරජාණන් වහන්සේ දුෂ්කරව ගාම්භීරව, පරම ගාම්භීරව, නුවණැත්තන් විසින් නුවණැත්තන්ගේ නුවණින් අවබෝධ කරපු යම් ධර්මතා තියෙනවාද, ආන්න ඒවා ගැන කියනවා නම් එහෙම නම් ඒක සුදුසු වර්ණනාවක් කිව්වා. කුමක්ද පින්වත්නි ඒ? බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝකෙ දෘෂ්ටි තියෙනවා ලෝක සත්ත්වයා තුළ. ආගම් මතවාද හැදිච්ච විදිය. අතීත කෙළවර - පූර්වාන්තය මුල් කරගෙන, ආගම් දහඅටක් ඇති වෙලා තියෙනවා. ඉතින් ඒ දහ අටෙන් බුදුරජාණන් වහන්සේ දේශනා කලා සාස්වතයි කියලා. ඒ කියන්නෙ සාස්වතයි කියන්නේ ඇත කියන දෘෂ්ටිය මුල් කරගෙන ආගම් හතරක් හැදෙනවා. අර දහ අට ඇතුලේ මේ ආගම් හතර. ඒ තමයි එක්කෙනෙක් ජීවිත ලක්ෂයක් විතර ආපස්සට බලලා කියනවා ලෝකයක් තියෙනවා, ආත්මයක් තියෙනවා. එක්කෙනෙක් සංවට්ඨ විවට්ඨ කල්ප දහයක් විතර බලලා කියනවා ලෝකයක් තියෙනවා, ආත්මයක් තියෙනවා. එක්කෙනෙක් සංවට්ඨ විවට්ඨ කල්ප හතලිහක් විතර බලලා කියනවා ලෝකයක් තියෙනවා, ආත්මයක් තියෙනවා. එක්කෙනෙක් තර්ක කරලා කියනවා ලෝකයක් තියෙනවා, ආත්මයක් තියෙනවා. සාස්වත, ඇත කියන දෘෂ්ටිය ඇතිවෙනවා. ඔය ආගම් හතරක්. ඇතැම් දේවල් සාස්වතයි, ඇතැම් දේවල් අසාස්වතයි කියලා ඇතිවෙන අදහස් තියෙනවා. ඒවගේ ආගම් හතරක් තියෙනවා. එයින් එකක් තමයි අර බ්‍රහ්මයා ලෝකය මැව්වා කියන එක. ආභස්සර දිව්‍යලෝකෙ ඉඳලා බ්‍රහ්මවිමානෙක පහළ වෙලා එයා හිතනවා තවත් අය ඉන්නවා නම් හොඳයි කියලා, එතකොට තවත් අය ආයුෂ ඉවරවෙලා කට්ටියක් ඒ විමානෙ පහළ වෙනවා. එතකොට එයාලා හිතන්නෙ මම තමයි මේ ලෝකෙ මැව්වේ කියලා. පස්සෙ ඉපදිච්ච අය මැරිලා මනුස්ස ලෝකෙ උපදිනවා. ඒ වාගේ අය පෙර ජීවිතේ බලනකොට ජේනවා, බ්‍රහ්මයා තවම ඉන්නවා, අපි මැරිලා. එතකොට බ්‍රහ්මයා නිත්‍යයි, සාස්වතයි, ස්වර්ගස්ථගතයි, අපි අනිත්‍යයි. ඔන්න කොටසක් නිත්‍යයි, කොටසක් අනිත්‍යයි කියන තැනට ආවා. ඊටපස්සෙ කිඩ්ඩාපදූසිකය, කෙළිදෙලෙන් වාසය කරලා කන්නෙ බොන්නෙ නැතිව ඉඳලා චුත වෙන දෙවිවරු එක්කෙනෙක් දෙන්නෙක් බලලා මනුස්ස ලෝකෙට ආවට පස්සෙ හිතනවා, කෙළිදෙලෙන් වාසය කරන අය අනිත්‍යයි, එහෙම වාසය කරන්නැති අය

නිත්‍යයි. මනෝපදූසික දෙව්වරු කල්පනා කරනවා මනුස්ස ලෝකෙට ආවට පස්සෙ අපි ඒ හිත කිලිටි වෙලා එහෙ හිටියෙ, ඒ නිසා මෙහෙට ආවෙ. හිත කිලිටි වෙච්ච නැති අය එහෙ නිත්‍යයි, අපි අනිත්‍යයි. ඊටපස්සෙ මොකද වෙන්නෙ සමහර අය තර්ක කරලා කරුණු විමසලා කියනවා ඇස, කණ, නාසය, දිව, කය. මේ පංච ඉන්ද්‍රියෝ නම් වෙනස් වෙනවා අනිත්‍යයි, හැබැයි මනස, සිත, විඤ්ඤාණය නිත්‍යයි. කොටසක් නිත්‍යයි, කොටසක් අනිත්‍යයි කියන සාස්වත අසාස්වත කියන අදහස් දෙකම තියෙන ලෝකයේ ආගම් හතර ඒක. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා ලෝකයේ කෙළවරක් ඇත නැත කියන දෘෂ්ටිය හටගන්නවා. එවැනි හතරක් තියෙනවා. එකක් තමයි එක්කෙනෙක් භාවනා කරනකොට එයාගේ හිතේ සමාධිය ඇතිවෙන්නෙ ලෝකයේ කෙළවරක් තියෙනවා කියන තැනට. එතකොට එයාට සමාධියෙන් පේන්නෙ වෘත්තාකාර සක්වලක් පේනවා. එතනින් එහාට එයාට පේන් නෑ. එතකොට එයා අදහසක් දානවා, ලෝකෙ කෙළවරක් තියෙනවා මේක වෘත්තාකාරයි කියලා. ඔන්න එක ආගමක්. තව එක්කෙනෙක් සමාධියෙන් භාවනා කරනකොට එයාගේ හිතේ ඇතිවෙන්නෙ, ලෝකයට කෙළවරක් නෑ, සමාධියෙන් කෙළවරක් පේන් නෑ. එතකොට එයා කියනවා අර කෙළවරක් තියෙනවා කියපු අදහස බොරු, කෙළවරක් නෑ. ඒ දෙවෙනි එක්කෙනා. තුන්වෙනි එක්කෙනා කල්පනා කරලා භාවනා කරනකොට කෙළවරක් ඇත නැත කියන සංඥාවේ හිත පිහිටනවා, එයාට මේ සක්වලේ උඩටයි යටටයි කෙළවරක් නෑ කියලා පේනවා, හැබැයි හරහට කෙළවරක් තියෙනවා. එතකොට එයා කියනවා කලින් අදහස් දෙකම වැරදියි, ලෝකෙට කෙළවරක් ඇත්තෙත් නෑ, නැත්තෙත් නෑ කියන අදහසට එනවා. ඊටපස්සෙ එක්කෙනෙක් තර්ක කරනවා, තර්ක කරලා තර්ක කරලා අදහසක් දානවා, ලෝකෙට කෙළවරක් ඇත්තෙත් නෑ, නැත්තෙත් නෑ කියලා. එතකොට ඔන්න ඔය විදියට ආගම් හතරක්, එතකොට ආගම් දොළහක් ඇතිවෙන හැටි අපි ඔය මීට කලින් වැඩසටහනේ කතා කලේ, ඔය තමයි සංක්ෂිප්තය. අද කතා කරන්නෙ අමරාවික්ෂේපවාදය. පුදුම සහගතයි. මේක කතා කරනකොට තේරෙනවා අද නම් ඉන්න ඔක්කොම අමරාවික්ෂේපවාදියොද කියලා. නිකම් බලන්නකො මේ ධර්ම දේශනාව අහලා. ඔන්න බුදුරජාණන් වහන්සේ දේශනා කලා, සන්ති භික්ඛවේ ඒකේන සමණබ්‍රාහ්මණා අමරාවික්කේපිකා, ඔන්න මේ ශ්‍රමණ බ්‍රාහ්මණයො ඉන්නවා අමරාවික්ෂේපවාදියො. අමරාවික්ෂේපවාදය කියන්නෙ ඇඟ බේරාගන්න පිළිතුරු දීලා ප්‍රශ්න වලින් මගඇරලා යනවා, ආදෙක් වගේ

ලිස්සලා යනවා. ආදෙක් වගේ ලිස්සලා යනවා, ඇඟ බේරගන්න වචන දානවා. අන්න ඒ අදහසට කියන්නෙ අමරාවික්ෂේපවාදය. ඒ කොහොමද වෙන්නෙ? ඔන්න ඔවුන්ගෙන් ප්‍රශ්න අහනවා, ප්‍රශ්න අහනකොට ක්‍රම හතරකින් මගඇරලා යනවා. අමරාවික්ෂේපවාදය ක්‍රම හතරකින් තියෙනවා මග ඇරලා යන. එතකොට ඒ ක්‍රම හතර මොකක්ද කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මෙහි ඇතැම් ශ්‍රමණ බ්‍රාහ්මණවරු ඉන්නවා, ඒ අය කුසලය, කුසලය කියලා ඒ ආකාරයෙන් දන් නෑ. අකුසලය අකුසලය කියලා ඒ ආකාරයෙන් දන්නෙත් නෑ. ඒ කියන්නෙ හරි වැරැද්ද මේ කට්ටිය දන්නෑ. එතකොට එයාලා කල්පනා කරනවා මේ අකුසල් කුසල් කියන එක අපිටත් හරියට තේරෙන් නෑ, මේ ලෝකෙ මිනිස්සුන්ටත් කුසල් අකුසල් කියන එක හරියට තේරෙන් නෑ. දැන් ඕවා අපි කියන්න ගියොත් එහෙම, දැන් මේවා කියන්න යනකොට මොකද වෙන්නෙ ඒ ඇත්තන් ඒ අපි දේශනා කරන ධර්මය අහලා රාගයක් හෝ ද්වේෂයක් හෝ තරහක් හෝ ඇති කරගන්න පුලුවන්. හැබැයි මේ කරුණ ඇතිවෙන්න, රාගයක්, ද්වේෂයක්, මෝහයක් අනුන් තුළ ඇතිවෙනවා නම් අපි කියන එක බොරුවක් වෙන්න ඕන. ඒ නිසා බොරු කියනවා කියන එක හරි පීඩාකාරී දෙයක්. ඒ නිසා ඒක මට බොරු කියන එක පීඩාකාරී දෙයක්. ඒක මට අන්තරායක්, කියලා මේ විදියට බොරු කියන්න තියෙන බියෙන්, බොරු කීමට පිළිකුලෙන් මේක කුසල් කියලා කියන්නෙත් නෑ, අකුසල් කියලා කියන්නෙත් නෑ, කවුරුහරි ප්‍රශ්නයක් ඇහුව විට මොකක්හරි ප්‍රශ්නයක් ඇහුවොත් මෙන්න මෙහෙම උත්තර දෙන්නෙ. ඒ තමයි, මා තුළ ඔවැනි අදහසක් නම් නෑ, මා තුළ ඒ අයුරින් පිළිගැනීමකුත් නෑ, මා තුළ ඔයිට වෙනස් අයුරකින් පිළිගැනීමකුත් නෑ, නොපිළිගන්නවා කියලා දේකුත් නෑ, ඊළඟට නොපිළිගන්නේ නැත කියලා දේකුත් නෑ. දැන් ඉතින් හොයාපන්කො. රවුමක් දාලා වරහනක් දාලා අගක් මුලක් හොයාගන්න බැරි තත්ත්වයට පත්වෙනවා. ඇයි එයා කියනවා මං පිළිගන්නෙත් නෑ, පිළිගන්නෙ නෑ කියලා දේකුත් නෑ, නොපිළිගන්නවා කියලා එකකුත් නෑ, ඉතින් එහෙම අදහසකුත් නෑ කියලා දාපු ගමන් ඒ අදහස හොයාගන්න බෑ එයාගෙ. හිමීට ප්‍රශ්නෙන් මගඇරලා යනවා ආඳා වගේ. ඕකට තමයි කියන්නෙ අමරාවික්ෂේපවාදය. ඔය එක ක්‍රමයක්. එතකොට ඒක මං ආයෙ සැරයක් ඔයාලට තේරෙන්න කියන්නම්. ඒ කියන්නෙ මතක හිටින්න. ඔන්න ඒ අමරාවික්ෂේපවාදියෙක් කියන්නෙ ලිස්සලා යනවා, හරියට උත්තරයක් දෙන්නෙ නෑ. මගඇරලා යනවා, එතකොට උදාහරණයක් කිව්වොත් ආඳා

ලිස්සලා යනවා වගේ. ඊටපස්සෙ මේකෙන් කොටස් හතරකින් මේ අමරාවික්ෂේපවාදය සිද්ධ වෙනවා. පළවෙනි ක්‍රමය තමයි, මෙයාලා මේ කණ්ඩායම මේ ආගම් දරන අය කුසල් අකුසල් හරියට දන් නෑ. එතකොට මේ අය කල්පනා කරනවා අපි කුසල් අකුසල් හරියට ඕවා දන්නෙත් නෑ, අපෙන් බණ අහන අය කුසල් අකුසල් හරියට දන්නෙත් නෑ, ඉතින් අපි මේක කුසල් මේක අකුසල් කියලා මේ අයට බණ කියන්න ගියාට පස්සෙ මේ අයට රාගයක් ද්වේෂයක් ඇතිවෙන්න පුලුවන්. එතකොට අපි කියන දේවල්වලින් රාගයක් ද්වේෂයක් මෙයාලාට ඇතිවුනොත් එහෙම ඒක හරියට අපි බොරු කිව්වා වගේ. ඒක අපේ බොරුවක්. බොරුවක් කියනවා කියන එක හරි පීඩාකාරී දෙයක්. ඒ පීඩාකාරී දේවල් අපිට ඕන නෑ. ඒ නිසා අපි මේක කියන් නෑ, කියලා දැන් මෙයා හිතනවා. දැන් මේ හිතන්නෙ අවසානෙට ආවෙ බොරු කියන්නෑ කියන තැනටනෙ. එහෙම ඉඳලා දැන් මේ අදහසේ මෙයාලා ඉන්නකොට දැන් මෙයාලගෙන් කවුරුහරි අහනවා, මේක කුසල් ද? එතකොට මෙයාලා කියනවා, එහෙම අදහසක් නම් නෑ අපේ. ඉතින් වෙන අදහසකුත් නෑ. ඒක අපි පිළිගන්නවා කියලා එකකුත් නෑ, නොපිළිගන්නවා කියලා එකකුත් නෑ. කියලා ඔය වගේ රවුමක් දානවා. දැන් අර අහන කෙනාට උත්තරයක් නෑ. ඉතින් එහෙනම් හොඳයි ඔබ විමසන්න කියලා යනවා. ආදා ලෙස්සලා ගියා වගේ. එතකොට මේකට කියනවා අමරාවික්ෂේපවාදයේ පළවෙනි ක්‍රමය. දෙවෙනි ක්‍රමය තමයි දැන් භාග්‍යවතුන් වහන්සේ අවබෝධ කරපු, දැන් බුද්ධ කාලයේ තිබ්බ ඒවා කොහොමද? ඉස්සර අහන්න බෑ කියනවානෙ ගහගන්න එනවලු, ආගම් ශාස්තෘවරු වැඩිය ප්‍රශ්න කියන්න ගිය ගමන් ගහගන්න එනවලු. දැන් සමහර රජවරු වගේ ගියාට පස්සෙ දැන් අජාසත්ත රජතුමා ප්‍රශ්න අහන්න ගිහිල්ලා තියෙනවානෙ නිගණ්ඨනාථපුත්තලාගෙන්. ඉතින් අහන්නෙ එකක්ලු, උත්තර දෙන්නෙ එකකටලු. ඉතින් කියනවා, බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා කියනවා අජාසත්ත කුමාරයා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අඹ ගැන අහනකොට දෙල් ගැන කියනවා. දෙල් ගැන අහනකොට කොස් ගැන කියනවා. ඉතින් ස්වාමීනී හරීයට කළකිරිලා කිව්වා මං මේ ඉන්නෙ. එහෙම කියලා තමයි, දැන් මේ සූත්‍රය පිටිපස්සෙ තියෙනවා මොකක්ද සාමාන්‍යඵල සූත්‍රය, ඒකෙ ඔය කරුණු තියෙනවා. ඉතින් හරී පුදුමයි ඒ කාලෙ හරියට පිරිසිදු පැහැදිලි උත්තරයක් ගන්න මනුස්ස ලෝකෙ විතරක් නෙවෙයි, තුන් ලෝකෙම පිරිසිදු පැහැදිලි උත්තරයක් ගන්න හිටපු එකම එක උත්තමයන් වහන්සේ මමත් ඔබත් සරණ ගිය මගේම බුදුරජාණන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ

නමක් පහළ නොවෙන්න උත්තරයක් නම් නෑ ප්‍රශ්න වලට. මංගල කාරණා වලට දෙවිවරු අතර පවා ඇතිවුනු කතා ටික බලන්න. අවසානෙ බුදු කෙනෙක්ම පහළ වෙලා ඒක දේශනා කරන්න සිද්ධ වුනානෙ. මහා මංගල සූත්‍රය, පරාභව සූත්‍රය. ඊටපස්සෙ ඊළඟ කාරණාව බලමු. දැන් අමරාවික්ෂේපවාදයේ දෙවෙනි කොටස, දෙවෙනි කණ්ඩායම. මෙයාලත් කුසල් දන්නෙත් නෑ, අකුසල් දන්නෙත් නෑ. ඊටපස්සෙ මෙයාලත් කල්පනා කරනවා දැන් කුසල් දන්නෙත් නෑ, අකුසල් දන්නෙත් නෑ, දැන් අපි මේවා මිනිස්සුන්ට කියන්න ගියොත් එහෙම මේ ආකාරයෙන් නොදන්නා දේවල් කියන්න ගියොත් එහෙම, මේක කුසල් මේක අකුසල් කියලා, මේ අයට රාගයක් ද්වේෂයක් ඇතිවෙන්න පුලුවන්. මේ අයට රාගයක් ද්වේෂයක් ඇතිවුනොත් ඒකට අපි බැඳෙන්න පුලුවන්. ඒ බැඳෙනවා කියන එක පීඩාවක්. ඔය පීඩාකාරී දේවල් වල, අනවශ්‍ය බැඳීම් වල අපි පටලැවෙන්න හොඳ නෑ, ඒ නිසා මිනිස්සු අහන ඒවට ඉතින් අපි අමුතුවෙන් උත්තර දෙන්න හොඳ නෑ, මෙහෙම කියලා ඉන්නවා. මේ විදියට උපාදානයට බියෙන්, උපාදානයට පිළිකුලෙන්, කුසල්ය කියලා කියන්නෙත් නෑ, මෙය අකුසල්ය කියලා කියන්නෙත් නෑ. ඊටපස්සෙ කවුරුහරි මෙයාලගෙන් මොනවහරි ප්‍රශ්නයක් ඇහුවම උත්තර දෙන්නෙ මෙහෙමයි. මා තුළ ඔවැනි අදහසක් නම් නෑ. මා තුළ ඔය වාගේ පිළිගැනීමකුත් නෑ, මා තුළ ඔයිට වෙනස් අයුරකින් පිළිගැනීමකුත් නෑ, නොපිළිගන්නවා කියලා දේකුත් නෑ. නොපිළිගන්නෙ නෑ කියලා දේකුත් නෑ. දැන් ඉතින් මේකෙ උත්තරේ මොකක්ද? ඉතින් හොයාගන්න බෑ. ඊටපස්සෙ ඔහොමම ලිස්සලා පොඩ්ඩක් කල්පනා කරලා බලන්න කියලා වරහනක් දාලා යවනවා. මේකට කියනවා අමරාවික්ෂේපවාදය. අද ලෝකෙ ගොඩාක් තියෙන්නෙ ඒක. හරි උත්තරයක් නෑ. කොහෙන් හරි කරකවලා කරකවලා අවසානයේ අර ප්‍රශ්නය තියෙන කෙනාට තිබ්බ ප්‍රශ්නෙට වැඩිය වෙන ප්‍රශ්නයක් ඇතිවෙනවා. අමරාවික්ෂේපවාදය නිසා. දැන් ඔන්න ඔය ක්‍රම දෙක ආයෙත් සැරයක් මතක තියාගැනීම පිණිස කියන්නම්. අමරාවික්ෂේපවාදය කියන්නෙ ලිස්සලා යනවා හරි උත්තරයක් දෙන් නෑ. පළවෙනි එක්කෙනා, පළවෙනි ආගම් කණ්ඩායම හිතුවා මේ කුසල් අකුසල් කියන එක අපි දන්නෙ නෑ. ඉතින් මිනිස්සු දන්නෙත් නෑ, මිනිස්සුන්ට ඕවා කියන්න ගියාම මිනිස්සුන්ට රාග ද්වේෂ මෝහාදිය ඇති කරගන්නවා. ඒවා ඇතිවෙනවා නම් මිනිස්සු තුළ ඒක අපේ බොරුවක්. ඉතින් බොරුව කියන්නෙ හරි පීඩාකාරී දෙයක්. පීඩාවක් අපිට ඕන නෑ, අපි ඕවට උත්තර දෙන්න ඕන නෑ කියලා මිනිස්සු අහන දේකට අර වාගේ අගක් මුලක්

නැති කැරකිලා යන උත්තර දෙනවා. උත්තරයක් නෑ අවසානෙ. දෙවෙනි කණ්ඩායම, දැන් එයාලටත් අනුගාමිකයො ඉන්නවා. දෙවෙනි කණ්ඩායම, එයාලත් කුසල් අකුසල් දන්නෙ නෑ. කුසල් අකුසල් ගැන අහනකොට එයාලා කල්පනා කරනවා, මිනිස්සු කුසල් අකුසල් ගැන දන්නෙත් නෑ. අපි ඕවා මිනිස්සුත් එක්ක ඕවා කියන්න ගියාට පස්සෙ මිනිස්සුන්ට රාග ද්වේෂාදිය ඇතිවෙනවා. ඊටපස්සෙ ඒවා ඇතිවෙන්න ගියාම අපිටත් ඔය බැඳීම් ඇතිවෙනවා. බැඳීම් ඇතිවෙනවා කියන එක හරි පීඩාකාරී දෙයයි. ඔය අනවශ්‍ය බැඳීම් අපිට ඕන නෑ, අපි ඕවට උත්තර දෙන්න ඕන නෑ කියලා මේ කණ්ඩායම ඉන්නවා. මෙයාලගෙන් කවුරුහරි ප්‍රශ්නයක් අහපු ගමන් ඕක අපි පිළිගන්නෙත් නෑ, නොපිළිගන්නෙත් නෑ, නොපිළිගන්නවා කියලා එකකුත් නෑ, වෙනත් අදහසකුත් නෑ, එහෙම ප්‍රශ්නෙකුත් නෑ, ඕක කල්පනා කරලා බලන්න කියලා රවුමක් දාලා යවනවා. මේකට කියන්නෙ අමරාවික්ෂේපවාදය. ඊටපස්සෙ තුන්වෙනි ක්‍රමය තමයි ඔන්න කොහොමද තුන්වෙනි ක්‍රමයට අමරාවික්ෂේපවාදය තියෙන්නෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මෙහිලා ඇතැම් ශ්‍රමණබ්‍රාහ්මණයින් ඉන්නවා. මේක කුසල් කියලා දන්නෙත් නෑ. මේක අකුසල් කියලා දන්නෙත් නෑ. එතකොට මෙයා මොකද කරන්නෙ? මේක කුසල් අකුසල් කියලා දන්නැති නිසා මෙයාලා කල්පනා කරනවා අපි මිනිස්සු මැද ගිහිල්ලා මේවා කුසල් මේක අකුසල් කියලා කියන්න ගත්තොත් මේ සමහර මිනිස්සු ඉන්නවා හරියට මොළේ තියෙනවා. තියුණු නුවණ තියෙනවා. ඉතින් ඕක කියන්න ගියාට පස්සෙ පණ්ඩිත වූ සියුම් නුවණ තියෙන අනුන් හා වාද කරලා ජයගත්තු ඊතලයෙන් අශ්වලෝමයට විදිනවා තරම් දක්ෂ දුනුවායන් වැනි වූ තමන්ගේ දෘෂ්ටි වලින් නුවණ හසුරවා අනුන් පරදවන්න හැසිරෙන යමෙක් ඇත්ද, එබඳු ශ්‍රමණ බ්‍රාහ්මණයින් ඉන්නවා. ඉතින් මං කුසල් අකුසල් ගැන කියන්න ගියොත් ඔවුන් කරුණු අරඹයා මගෙන් ප්‍රශ්න කරන්න පුලුවන්. කරුණු ඉස්මතු කරලා වාදයට එන්න පුලුවන්. දොස් කියන්න පුලුවන්. යම් කෙනෙක් මා පවසන කුසල් අකුසල් ගැන ප්‍රශ්න කරද්දි, කරුණු ඉස්මතු කරද්දි, වාද කරද්දි, දොස් කියද්දි, මට ඕවට උත්තර දෙන්න බැරි වුනොත් එහෙම හරී පීඩාවක් මට. ඉතින් මං ඔය පීඩාකාරී දේවල් වලට මං අතගහන්න හොඳ නෑ කියලා මෙයාලා කල්පනා කරන්නෙ උත්තර නොදී ඉන්න ඕන කියලා. දැන් මෙයාලා කල්පනා කලා අපි ඕවා කියන්න ගියොත් එක් එක්කෙනා වාද විවාද තර්ක කරලා අවසානෙ අපි නිකං පච වෙලා යනවා, ඒ නිසා ඕවට උත්තර දෙන්න ඕන නෑ කියලා දැන් හරියට උත්තරයක් දෙන් නෑ. ඉතින් එයාලගෙනුත්

ගිහිල්ලා අහනවා අනිත් අය මොනවද මේ කියලා, ඒ අය මොනවද කියන්නෙ? මා තුළ ඔවැනි අදහසක් නම් නෑ, මා තුළ ඒ අයුරින් පිළිගැනීමකුත් නෑ, මා තුළ ඔයිට වෙනස් අයුරකින් පිළිගැනීමකුත් නෑ, නොපිළිගන්නවා කියලා දෙයකුත් නෑ, නොපිළිගන්නේ නැත කියලා දේකුත් නෑ කියලා ආයෙත් රවුම දැම්මා. ලිස්සලා යනවා. දැන් ඔය තියෙන්නෙ ලංකාවේ, අපි කමිටියක් පත් කරනවා, අපි දැන් මේ වෙනකොට කොමිසමක් පත් කරලා තියෙන්නෙ. කියලා කොහෙන් හරි ලිස්සලා යනවා. අමරාවික්ෂේපවාදය, තනිකර පාර්ලිමේන්තුව වනාහි අමරාවික්ෂේපවාදය. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ දෘෂ්ටි වල ස්වභාවය. දැන් ඇත්තටම අද කාලෙ මේ එක එක්කෙනා එක එක ආගම් කියලා නම් දාගෙන තිබ්බාට ඒ දේශනාවට අනුව අමරාවික්ෂේපවාදය. එතකොට පළවෙනි අය මතකයිනෙ. පළවෙනි පිරිස, දෙවෙනි පිරිස, තුන්වෙනි පිරිස දැන් කතා කලේ. තුන්වෙනි පිරිස, මේ දර්ශනය දැන් මේක ලිස්සලා යන්නෙ ඒ අය දන්නවා දැන් අපි කතා කරන්න ගත්තොත් ඕවගේ අග මුල හොයන්න ගිහිල්ලා වාද විවාද කරලා අවසානෙ අපි පිරිස මැද පච වෙලා යනවා. ඉතින් ඕවට උත්තර දීගන්න බැරිවුනොත් එහෙම අපිට හරි පීඩාවක්. ඒ නිසා ඕවට අපි අතදාන්න ඕන නෑ කියලා කවුරුහරි අහපු ගමන් උත්තර දහයක් පහළොවක් විතර වගේ දීලා එයාටත් හොයාගන්න බැරි විදියට ලිස්සලා යනවා. අමරාවික්ෂේපවාදය. අප බලමු හතරවෙනි පිරිස කොහොමද ලිස්සලා යන්නෙ කියලා. ඇත්තටම ලෝකෙ මේ වාගේ ආගම් දර්ශන තියෙනවා කියලා අපි, මේකෙන් තේරෙන්නැද්ද අපි මේ ළිදේ ගෙම්බො වගේ කියලා. ළිං ගෙම්බො වගේ කියලා. මොකාක්වත් අපිට ඉපදුනාට, කෑවා, බීවා, ඇන්දා, දරු මල්ලො හැදුවා, මැරිලා ගියා, බැංකු පොත බල බලා මැරිලා ගියා. ඔච්චරනෙ මේ ලෝකෙ තියෙන්නෙ. මේ බලන්න මිනිස්සුන්ගේ හිත් වල තියෙන, දැන් අපි මේ වාගේ දෘෂ්ටි කියනකොට හා, ඒ කාලෙ වෙන්න ඇති, ඔය බුද්ධ කාලෙ තිබ්බ ඒවා වෙන්න ඇති කියලා අපි හිතනවා. නමුත් හිත් විග්‍රහ කලොත් මං නම් හිතන්නෙ මේ හැට දෙකම තියෙනවා. ඇයි දැන් මේ අමරාවික්ෂේපවාදය මං කිව්වෙ පාර්ලිමේන්තුවෙ තියෙනවා කියලා. මැති ඇමැතිවරුන්ගේ තියෙන්නෙ අමරාවික්ෂේපවාදයනෙ. ලිස්සලා යනවානෙ. ඔය බලන්න පහුගිය කාලවල අපිට අහන්න දකින්න ලැබුනා, ඔය සමහර වෙලාවට මාධ්‍යයෙන් ගිහිල්ලා එක එක්කෙනාගෙන් අහන්නෙ ඔබතුමා මොකක්ද මේ ගැන දරන අදහස කියලා. එහෙම අදහසකුත් නෑ, නැති අදහසකුත් නෑ කියලා මේ අමරාවික්ෂේපවාදයම දානවානෙ. එතකොට අදටත් තියෙනවා. අපි බලමු හතරවෙනි එක්කෙනා,

බුදුරජාණන් වහන්සේ දේශනා කලා, මෙහි ඇතැම් ශ්‍රමණබ්‍රාහ්මණයෙක් හෝ ඒ පිරිසක් ඉන්නවා, එයාලට නුවණ මදි. ඉතා මෝඩයි. ඔහු නුවණ මදි නිසා බොහෝසේ මෝඩ නිසා ඒ ඒ කරුණු අරඹයා ප්‍රශ්න විමසූ විට එක එක දේවල් වල වචනවලින් මගහරිනවා. නුවණ නෑ, මෝඩයි, මොකවත් තේරෙන් නෑ, ඒ නිසා මොනවහරි ප්‍රශ්නයක් අහපු ගමන් මගඅරින්න කපටිකම නම් තියෙනවා. කොහොමද ඒ? ආදෙකු මෙන් ලිස්සලා යන්නෙ කොහොමද? පරලොවක් තියනෙවාද කියලා මගෙන් විමසුවොත් එයාලා හිතනවා, මට හිතෙනවා නම් පරලොවක් ඇත කියලා මං ඔබට එය විසඳන්නෙ පරලොවක් තියෙනවා කියලා. ඒ වුනාට මා තුළ ඔවැනි අදහසක් නම් නෑ, මා තුළ ඒ අයුරින් පිළිගැනීමකුත් නෑ, මා තුළ ඔයිට වෙනස් අයුරකින් පිළිගැනීමකුත් නෑ, නොපිළිගන්නවා කියලා දේකුත් නෑ, නොපිළිගන්නේ නෑ කියලා දේකුත් නෑ. දැන් මොකක්ද උත්තරේ? එතකොට පරලොවක් නැද්ද කියලා ඇහුවොත් එහෙම, ඒත් අර එකම උත්තර සෙට් එකක් තියෙන්නෙ. හොඳට බලන්න, හොඳට බලන්න මාධ්‍ය සාකච්ඡා වලදි මැති ඇමැතිවරුන්ගේ උත්තර. මට හිතෙන දේ මේ කියන්නෙ. මං ඇත්තටම දේශපාලන කතා අහලා කියවලා එහෙම නෑ. මේ යනකොට එනකොට රේඩියෝ වල ඇහෙන ඒවා වාහනේ යනකොට, ඊළඟට මිනිස්සු කියන ඒවා ඇහිච්ච ගමන් මං හිතලා තියෙනවා. මම හරිද නැද්ද දන්නෑ, මම ඒවා විස්තර කරන්න යන්නෑ, ධර්මයෙන් තේරුම් ගන්න දේනෙ අපිට වටින්නෙ. නමුත් ඔබ බලන්න. ඔය මැති ඇමැති වරුන්ගේ කතා ටිකක් අරගෙන එයාලා දෙන උත්තර කොළේක ලියාගන්න. නිකම්, ලියාගන්නම ඕන නෑ ඔබට දැන් තේරෙනවා. බලන්න එක උත්තර සෙට් එකක් තියෙන්නෙ. හරි අපි ඒකට ක්‍රියාමාර්ගයක් ගන්නවා. ඒකට වෙනම කොමිසමක් පත් කරලා තියෙනවා. ඒ ගැන අපි සාකච්ඡාවට බඳුන් කරලා තියෙනවා. එහෙම අදහසක් නෑ, ඔය වගේ එකම වචන සෙට් එකක් තියෙන්නෙ. හොඳට බලන්න, මේ අමරාවික්ෂේපවාදය. එතකොට මෙයාලගෙන් ඇහුවොත් ඕනම ප්‍රශ්නයක්, ඒ කියන්නේ පරලොවක් තියෙනවාද, නැද්ද, පරලොවක් නැද්ද, ඕපපාතික සත්තු ඉන්නවාද, ඕපපාතික සත්ත්වයන් නැද්ද, ඕපපාතික සත්ත්වයන් ඇද්ද, නැද්ද, හොඳ නරක කර්ම වල විපාක තියෙනවාද, හොඳ නරක කර්ම වල විපාක නැද්ද, හොඳ නරක කර්ම වල විපාක ඇත්තේත් නැද්ද, නැත්තේත් නැද්ද, තථාගතයන් වහන්සේ මරණින් මතු ඉන්නවද, නැද්ද, තථාගතයන් වහන්සේ මරණින් මතු නැත්ද, තථාගතයන් වහන්සේ මරණින් මතු ඇත්තේත් නැද්ද, නැත්තේත් නැද්ද, කියලා එයාලගෙන් ඇහුවොත් එයාලට හිතෙනවා නම් තථාගතයන් වහන්සේ

මරණින් මතුව ඇත්තේත් නෑ නැත්තේත් නෑ කියලා මං ඒක ඔබට විසඳන්නේ තථාගතයන් වහන්සේ මරණින් මතු ඇත්තේත් නෑ නැත්තේත් නෑ කියලා. ඒ වුනාට මා තුල ඔවැනි අදහසකුත් නෑ, මා තුළ ඒ අයුරින් පිළිගැනීමකුත් නෑ, මා තුළ ඔයිට වෙනස් අයුරකින් පිළිගැනීමකුත් නෑ, නොපිළිගන්නවා කියලා දේකුත් නෑ, නොපිළිගන්නේ නැත කියලා දේකුත් නෑ, පින්වත් මහණෙනි, යම් කරුණකට පැමිණිලා අමරාවික්ෂේපවාදී භවත් ශ්‍රමණ බ්‍රාහ්මණවරු ප්‍රශ්නයක් ඇහුවාට පස්සෙ ආඳා වගේ ලිස්සලා මගඇරලා යන හතරවෙනි ක්‍රමය ඕක කිව්වා. ඒ කියන්නෙ මෝඩ නිසා, නුවණක් නැති නිසා, ඒවා තේරුම් බේරුම් කරගන්න බැරි නිසා, උත්තර ටිකක් හදාගෙන ඉන්නවා, අහන දේට ඒ උත්තර සෙට් එකෙන් උත්තර දෙනවා. පුදුම සහගත දෙයක් මේ අමරාවික්ෂේපවාදය කියන්නෙ. පුදුම සහගත දෙයක් අමරාවික්ෂේපවාදය. හරි භයානකයි මේක නම්. දැන් මේ ඇයි මේ, දන්නා දේ දන්නවා කියලාත් නොදන්න දේ නොදන්නවා කියලා කියන්න බැරි ඍජුකම නැතිවීම නේද මේ? මෙච්චර දෘෂ්ටි වල යන්නෙ. මෙච්චර රවුම් ගහන්නේ. පුදුම සහගතයි. අපි වුනත් දන්නේ නැති දේට නෑ කියලා, නොදන්නා දේට නොදන්නවා කියලා කිව්වා නම්, දන්න දේට දන්නවා කියලා කිව්වා නම්, ඔක්කෝම ඉවරයිනෙ. එතකොට තමන් දන්නෙ නැති දේ දන්නෙ නෑ කියලා කියන්න බැරි මනුස්සයා කැරකිලා යන්නෙ අමරාවික්ෂේපවාදයෙන්. ඇයි ඒ? එයා වචන ගොඩාක් දාලා රවුම් කරලා ලිස්සලා යනවානෙ. ඊළඟට වැරැද්ද කරපු කෙනා, වැරැද්ද පිළිගන්න බැරි කෙනා කැරකිලා යන්නෙ අමරාවික්ෂේපවාදයට. එතකොට කොහෙන්හරි කැරකිලා යනවා. උත්තරයක් දෙන්නේ නෑ. ඉතින් ඒ නිසා දැන් මේ බුද්ධ කාලයේ ආගම් හටගත්තු හැටි, අද කාලෙට මං මේ චුට්ටක් ගලපලා කිව්වෙ. මොකද මේ ආගම් හටගත්තු හැටි, බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ ලෝකයේ සත්ත්වයා අමරාවික්ෂේපවාදයට පැහිලා යනවා ක්‍රම හතරකින්. එක ක්‍රමයක් තමයි එයා කුසල් අකුසල් ගැන දන්නෙ නෑ, එයා කල්පනා කරනවා මිනිස්සු දන්නෙත් නෑ, ඕවා මිනිස්සුන්ට කියන්න ගියාට පස්සෙ මිනිස්සු රාග, ද්වේෂ මෝහ ඇති කරගන්නවා, රාග ද්වේෂ මෝහ ඇතිකරගන්නවා කියන්නෙ ඒක අපේ බොරුවක්. බොරු කියනවා කියන්නෙ හරි පීඩායි. ඔය පීඩාකාරී වැඩ කරන්න හොඳ නෑ කියලා මිනිස්සු ප්‍රශ්නයක් ඇහුවාට පස්සෙ ලිස්සලා යනවා හරි උත්තරයක් නොදී. ඔන්න එක ආගමක් තියෙනවා එහෙම. තව තියෙනවා ඒ අමරාවික්ෂේපවාදී ආගමක්ම, එයාලා කුසල් අකුසල් දන්නෙ නෑ, මිනිස්සුන්ට ඒවා කිව්වට මිනිස්සු දන්නෙත් නෑ, මෙයාලා කල්පනා කරනවා මිනිස්සුන්ට

කිච්චට පස්සෙ මිනිස්සුන්ට රාග ද්වේෂ මෝහ ඇතිවෙනවා. ඊටපස්සෙ අපිටත් ඕව ගැන බැඳීමක් ඇතිවෙනවා. ඔය අනවශ්‍ය බැඳීම් ඇතිකරගෙන ප්‍රශ්න හදාගන්න ඕන නෑ කියලා එයාලත් ලිස්සලා යනවා උත්තරයක් දෙන්නෙ නෑ. ඊටපස්සෙ තුන්වෙනි කණ්ඩායම තමයි එයාලා කල්පනා කරනවා අපි කුසල් අකුසල් ගැන අපි දන්නෙත් නෑ, ඕවා කියන්න ගියාට පස්සෙ සමහර අය ඉන්නවා හාර හාර අවුස්සලා ඕවගේ අග මුල හොයලා මේ වාද විවාද තර්ක ඇතිකරගෙන ඕවා අපෙන් අහන්න ගියාට පස්සෙ අපි කට්ටිය මැද නිකං පචවෙලා යනවා, අපිට උත්තර දීගන්නත් බෑ. ඒක හරි පීඩාවක්. ඊට වැඩිය හොඳයි අපි මේ පැත්තකට වෙලා ඉන්නවා කියලා උත්තරයක්, ප්‍රශ්නයක් අහපු ගමන් එහෙන් මෙහෙන් උත්තරයක් දීලා ලිස්සලා යනවා තුන්වෙනි කණ්ඩායම. හතරවෙනි කණ්ඩායම මොකද කරන්නෙ, එයාලට ඒ දහම ගැන කිසිම වැටහීමක් නෑ. එයාලා වචන සෙට් එකක් තියන් ඉන්නවා, මොනවා ඇහුවත් හිතෙන සිතිවිල්ලක් කියලා, අර උත්තර ටික දාලා, අරයට උත්තරයක් නෑ අවසානෙ. මේ ලෝකෙ කුසල් අකුසල් තියනවද, පින් පව් තියෙනවාද, මෙලොවක් පරලොවක් තියෙනවාද, රහතන් වහන්සේලාට මරණින් මත්තෙ මොකක්ද වෙන්නෙ? මොනවා ඇහුවත් එයාලා එකම උත්තරයක් දෙන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඕක තමයි අමරාවික්ෂේපවාදය. ඉතින් තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඔය වාද හටගන්න හැටිත් දන්නවා. ඒ කියන්නෙ මෙයාලා මේ වාද අහලා මේ වාද හදාගෙන, ඒ වාද ග්‍රහණය කරගෙන ඒවටම බැඳිලා මේ ඇත්තෝ මරණින් මත්තෙ කොහෙද යන්නෙ කියලත් බුදුරජාණන් වහන්සේ දන්නවා. ඒ පිළිබඳව දැනුමත් තියෙනවා. හැබැයි බුදුරජාණන් වහන්සේ ඒ දැනුම ග්‍රහණය කරගෙන නෑ, අවබෝධය ග්‍රහණය කරගෙන නෑ. අමුතු බැඳීමක් නෑ. බුදුරජාණන් වහන්සේ මේ කිසිම දෘෂ්ටියකට අහුවෙලා නැති නිසා ඇතුලේම නිවිලා. සංසිඳිලා ඉන්නෙ. බුදුරජාණන් වහන්සේ මේ දෘෂ්ටියේ ස්පර්ශය නිසා හටගන්නා වූ වේදනාවන්හි ආශ්වාදය, ආදීනවය, නිස්සරණය යථාභූතයක් වශයෙන්ම අවබෝධ කරගෙන ඉන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ උපාදාන රහිත වෙලා සියලු කෙලෙසුන්ගෙන් නිදහස් වෙලා ඉන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා ආන්න බුදුගුණ කියනවා. අන්න බුදු කෙනෙක්ගේ ගාම්භීර වූ අවබෝධ කරන්න දුෂ්කර ඉතා තියුණු නුවණින් අවබෝධ කරපු බුදුරජාණන් වහන්සේගේ අවබෝධ ඥාණය අන්න විස්තර කරලා කියනවා නම් ඒවා නම් සුදුසු වර්ණනා කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කලා පින්වත් මහණෙනි, මේ ලෝකයේ

මිනිස්සුන්ට ආයෙ ඇතිවෙනවා අදිච්චසමුප්පන්නවාදී අදහස් දෙකක් ඇතිවෙනවා. දැන් මේ වෙනකොට අපි ආගම් දාසයක් ගැන කතා කලා. එතකොට ආගම් දහඅටක් තියෙනවානෙ, මේ ජීවිතේ කලින් මුල්කරගෙන. මේ ජීවිතේ දක්වා ඇතිවෙච්ච, පූර්වාන්තය මුල් කරගෙන ඇතිවෙච්ච ආගම් දහඅටක් තියෙනවා. ඒකෙන් දාසයක් කතා කලා. තව දෙකක් තියෙනවා. දැන් ඒ දෙක විස්තර කරන්නෙ. බුදුරජාණන් වහන්සේ දේශනා කලා, ඇතිවෙනවා දෘෂ්ටියක් අධිච්චසමුප්පන්න. අධිච්චසමුප්පන්න කියලා කියන්නෙ පටිච්චසමුප්පන්න කියන වචනයට විරුද්ධ වචනය. පටිච්ච සමුප්පන්න කියන්නෙ හේතුඵල දහමෙන් හටගත්තානෙ. අධිච්ච සමුප්පන්න කියන්නෙ හේතුඵල දහමින් හට නොගත්ත. එතකොට හේතු ඵල දහමින් තොරව ඉබේ හටගත්තා කියන අදහස් තියෙන ආගම් දෙකක් තියෙනවා. මොකක්ද ඒ ආගම? මෙන්න මේකනම් පුදුම සහගතයි. මොකක්ද ඒ? බුදුරජාණන් වහන්සේ දේශනා කලා කොහොමද ඒ ආගම් ඇතිවෙන්නෙ. මේ බලන්න මේ සක්වලවල් වල ස්වභාවය. බුදුරජාණන් වහන්සේ දේශනා කලා සන්ති භික්ඛවේ අසඤ්ඤ සත්තා නාම දේවා, අසඤ්ඤ සත්ත්වයෝ කියලා දේව කොට්ඨාශයක් ඉන්නවා. අස්ඤඤ ලෝකෙ. සඤ්ඤුප්පාදාච පනතේ දේවා ධම්මා කායා පවත්ති. ඒ අයට සංඥාව ඇතිවුනොත් ඒ දිව්‍ය ලෝකෙන් චුත වෙනවා. තානං කෝ පනීතං විජ්ජති යං අඤ්ඤතරෝ සත්ත ධම්මකායා ඉඡත්තං ගච්ඡති, ඔන්න ඒ අය එක්කෙනෙක් එහෙන් චුත වෙලා මනුස්ස ලෝකෙ ඉපදුනා. මනුස්ස ලෝකෙ ඉපදිලා මෙයා භාවනා කරනවා. භාවනා කරලා සමාධියෙන් එක ජීවිතයක් බලනවා කලින්, බලනකොට එයාට බලනකොට බලනකොට පේන්නෙ, පේන් නෑ, ඇයි පේන්නැත්තෙ? එයා හිටියේ අසඤ්ඤෙනෙ. අසඤ්ඤයේ ඉඳලා සංඥාව ඇතිවෙච්ච ගමන්ම චුතවුනානෙ. එතකොට එයාට සංඥාව ඇතිවෙච්ච මොහොත පේනවා, එතනින් එහාට පෙන්නෑ. දැන් අපි හොඳටම නිදාගෙන ඉඳලා නැගිට්ටොත් එහෙම නිදාගෙන හිටපු ටික පේනවද, නැගිට්ට තැන ඉඳලා නේද මතක. ඒ වගේ හැබැයි ඒ වෙලාවට කයක් සිතක් තිබ්බෙ නැතිද? කයක් සිතක් තිබ්බා, නොදැනී තිබ්බෙ. ඒකයි අසඤ්ඤ. එතකොට සංඥාවක් නෑ, එතකොට ඇහැරුනාම වගේ තමයි ඒ වෙලාවෙ ඉඳලා මතක. එතනින් එහාට නිදාගෙන ඉඳපු තත්පරයක් ගානෙ මතකද? මෙයා භාවනාවෙන් බලනවා බලනවා බලනවා. අර සංඥාව ඇතිවෙච්ච වෙලාව විතරයි පේන්නෙ. එතනින් එහාට පේන්නෑ, මෙයා මොකක්ද දැන් එන දර්ශණය මොකක්ද? මෙයා කියනවා, අදහසක් දක්වනවා, ඒ තමයි මේ ලෝකෙ ආත්මයක් කියලා එකක්

තියෙනවා නම්, ආත්මයත් ලෝකයත් ඉබේමයි හටගෙන තියෙන්නෙ, මක් නිසාද යත්, මං කලින් ඉඳලා නෑ. මං මේ ජීවිතේ තුළ තමයි ඉස්සෙල්ලාම ඉපදුනේ. ඇයි අතනින් එහාට පේන්නෑ එයාට. එයාලා හිතනවා කලින් ජීවිත නෑ, දැන් තමයි ඉස්සෙල්ලාම ඉපදුනේ. ඇයි එයාට සංඥාව අරගත්තු වෙලාවෙ ඉඳලා විතරයි පේන්නෙ. පින්වතුනි තමන්ටම පේනවා නම්, සමාධියටම පේනවා නම් කොහොමද මේවා විග්‍රහ කරගන්නෙ. පුදුම සහගතයි. එතකොට දැන් මේකෙන් තේරෙන්නැද්ද අසඤ්ඤ, අපි කියමු කල්ප පන්සීයක් හිටියා කියලා. මෙහෙන් චුත වෙච්චි ගමන්ම අසඤ්ඤයේ. කල්ප පන්සීයක් ගියාට පස්සෙ සංඥාවක් උපදිනවා. එතකොට චුත වෙනවා. එතකොට අර කල්ප පන්සීයම මොකක්ද වුනේ. කින්ද මන්ද, ආතක්පාතක් නෑ. කිසිම දෙයක් දන් නෑ, අසඤ්ඤ සත්තු, කල්ප පන්සීය ඉන්නවා. එතකොට අර කෝමා ද මොකක්ද ලෙඩක් තියෙන්නෙ, එතකොට අවුරුදු දහය දොළහ ඉන්නෙ, කයක් තියෙනවා, මැරෙන්නෙත් නෑ, නමුත් සංඥාව ඇහැරිච්ච ගමන් ලෙඩේ සුවයි. ඒ නිසා පුදුම දෙයක් බුදුරජාණන් වහන්සේ දේශනා කලා, ඔන්න මං කලින් ඉඳලා නෑ දැන් තමයි හටගත්තෙ කියලා හේතුඵල දහමට විරුද්ධ අදහසක්නෙ ආවෙ. අධිච්චසමුප්පන්නවාදී පළවෙනි දහම ලෝකෙ හටගන්නවා. ඊටපස්සෙ එයාගේ ආගමට අනුව අනුගාමික පිරිසක් ඇතිවෙනවා. බුදුරජාණන් වහන්සේ ඒ ක්‍රමයත් අවබෝධ කලා. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා, තව පිරිසක් ඉන්නවා. ඒ පිරිස මොකක්ද වෙන්නේ? ඉද භික්ඛවේ ඒකංචෝ සමනෝවා බ්‍රාහ්මණෝවා තක්කී හෝතී විමංසි සෝ මං තක්ක පරියාහතං විමංසානුචරිතං පච්චං සයං පටිභානං ඒවමාහ, ඔන්න කෙනෙක් ඉන්නවා තර්ක කරනවා, විතර්ක කරනවා, නුවණින් විමසා විමසා හිතනවා, එයාලා තර්ක කරලා විතර්ක කරලා අවසානෙ අදහසකට එනවා, ආත්මයත් ලෝකයත් ඉබේ හටගෙන තියෙන්නේ, හේතුඵල දහමක් නෑ. ඉබේ හටගෙන තියෙන්නේ කියලා තර්කයෙන් හදාගන්නෙ මේන්න මේක තමයි අධිච්ච සමුප්පන්නය. හේතුඵල දහමින් තොරව ලෝකයේ හටගන්නා ආගම් දෙක කියලා බුදුරජාණන් වහන්සේ වදාළා. එතකොට ඒ අධිච්ච සමුප්පන්න. හේතුඵල දහමින් තොරවුනු ආගම් දෙකයි. මං නැවත සිහි කරන්නම්. ඒ තමයි එක්කෙනෙක් අසඤ්ඤ ලෝකෙ ඉපදිලා ඉන්නෙ. ඉපදිලා ඒ අසඤ්ඤ ලෝකෙ ස්වභාවය තමයි සංඥාව ඇතිවෙච්ච ගමන් චුත වෙනවා. ඒ වගේ එක්කෙනෙක් මනුස්ස ලෝකෙ උපදිනවා. එයා සමාධි භාවනාවෙන් බලනවා. සමාධි උපද්දවලා පෙර ජීවිත බලන නුවණින් බලනකොට පේන්නෙ අර සංඥාව

ඇතිවෙච්ච තැන විතරයි. එතනින් එහාට මොකවත් පේන් නෑ, ඇයි අසඤ්ඤනෙ. එයා හිතනවා මං කලින් ඉඳලා නෑ. දැන් තමයි මම ඉන්නෙ. එහෙනම් මම ඉපදුනේ මේ ජීවිතේ. ඒ නිසා ඉබේ හටගත්තේ කියලා අදහසක් එනවා අධිච්ච සමුප්පන්නයි. දැන් අපේ බුද්ධ ශාසනේ, අපේ බුද්ධ ශාසනේ කියන්නෙ ලෝක සනාතන ධර්මය මොකක්ද? අවිජ්ජා පච්චයා සංකාරා, හේතුඵල දහම. ඊටපස්සෙ ඔන්න හේතුඵල දහමින් තොරව දර්ශනයක් සහිත ආගමක් ඇතිවුනා. ඊටපස්සෙ අනිත් තව පිරිසක් ඉන්නවා. තර්ක කරනවා විතර්ක කරනවා. තර්ක කරලා විතර්ක කරලා එයාලා එනවා හේතුඵල දහමක් නෑ කියලා. බලන්න සමාධියෙනුත් මේ පටලැවෙනවා, තර්ක විතර්ක කිරීමෙනුත් පටලැවෙනවා. සමාධියෙනුත් පටලැවෙනවා, තර්ක විතර්කයෙනුත් පටලැවෙනවා. හිතන්න බුදු කෙනෙක් දේශනා කරපු ධර්මයේදි අපි පටලැවෙන්න ඕන නෑ. බුදු කෙනෙක් දේශනා කරපු ධර්මය සමාධිය ඇතිවූ පමණින් හරි කියලා හිතන්නත් හොඳ නෑ. බුදු කෙනෙක් දේශනා කරපු ධර්මය තර්ක කරලා තේරුම් ගත්තා කියලා එපමණකිනුත් මේ ලෝක සත්ත්වයාට පිහිටක් නෑ. හේතුඵල දහම අවබෝධ කරගන්න ඕන, තේරුම් ගන්න ඕන මේක අපි. ඒකයි මේ හේතු ඵල දහම අවබෝධ නොකරන තාක් කල් මේ සත්ත්වයා ඇත නැත කියන සංඥා වල, මේ දෘෂ්ටි වල, කොහේහරි තියෙන දෘෂ්ටි වල පටලැවි පටලැවි ඉන්නේ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඒ අධිච්ච සමුප්පන්න වූ මේ දෘෂ්ටීන් දෙක හටගන්න විදියත් බුදුරජාණන් වහන්සේ දන්නවා. බුදුරජාණන් වහන්සේ දකිනවා, මේ අය මේ දෘෂ්ටි වලට ග්‍රහණය වෙලා බැඳිලා මැරුණට පස්සෙ යන තැනත් බුදුරජාණන් වහන්සේ දන්නවා. බුදුරජාණන් වහන්සේගේ ඒ පෙනෙන අවබෝධයට දැනුමට බුදුරජාණන් වහන්සේ බැඳිලත් නෑ. ඒ වගේම මේ දෘෂ්ටි වලට අහුවෙච්චි නැති නිසා බුදුරජාණන් වහන්සේ ඇතුලෙම නිවිලා ඉන්නෙ. බුදුරජාණන් වහන්සේ මේ දෘෂ්ටිය ස්පර්ශය නිසා ඇතිවන වේදනාවන්ගේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය ඒ විදියටම අවබෝධ කරලා යථාවබෝධයක් විදියට අවබෝධ කරලා මේ දෘෂ්ටි වලින් නිදහස් වෙලා වාසය කලා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඔන්න ගුණ කියනවා නම්, ඔන්න ගුණ කියනවා නම්, ගාම්භීර වූ, අවබෝධ කරන්න දුෂ්කරවූ අතිශයින් ගාම්භීර, නුවණැත්තන්ගේ නුවණින් අවබෝධ කළ යුතු පරම ගාම්භීර ධර්මය තථාගතයන් වහන්සේ අවබෝධ කලා. වර්ණනා කරනවා නම් භාග්‍යවතුන් වහන්සේගේ ඔන්න ඔය අවබෝධය වර්ණනා කරන්න සුදුසුයි කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා

කරනවා පින්වත් මහණෙනි, පූර්වාන්තය මුල් කරගෙන ඔය විදියට දෘෂ්ටි දහඅටක් ඇතිවෙනවා කියලත් බුදුරජාණන් වහන්සේ දන්නවා. ඒ දෘෂ්ටි වලට බැඳිච්ච නිසා මේ දහඅටක්, එයාලා මැරුණට පස්සෙ ඉපදෙන්නෙ කොහෙද කියලත් දන්නවා. බුදුරජාණන් වහන්සේ මේ කිසිම දෘෂ්ටියකට වැටෙන්නැත්තෙ, ඒ දෘෂ්ටිය පිළිබඳ තියෙන අවබෝධයට බැඳිලත් නෑ, බුදුරජාණන් වහන්සේ මේ දෘෂ්ටි වලට වැටිලා නැති නිසා ඇතුලේම නිවිලා ඉන්නෙ. එහෙනම් අනිත් අය දෘෂ්ටි වලින් දැවෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ මේ දෘෂ්ටි දහඅටට අහුවුනාට පස්සෙ ඒ කෙනාගේ ජීවිතේ තියෙනවා නම් ඒ දෘෂ්ටි මුල් කරගෙන ඇතිවෙච්ච වේදනාවෝ, ඒ ඉපදිච්ච ජීවිත වල වේදනාවන්ගේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය ඒ විදියටම බුදුරජාණන් වහන්සේ අවබෝධ කරලා, නොඇලිලා, නිදහස් වෙලා පරම විරාගීව වාසය කරනවා. ඒ නිසා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේට ප්‍රශංසා කලාට කමක් නෑ කියනවා මෙන්න මේ අවබෝධ ඥාණයට. ඉතින් ඔය තමයි පූර්වාන්තය මුල් කරගෙන ඇතිවෙච්චි දෘෂ්ටි දහඅට. අපි ඊළඟ දවසෙ කතා කරගමු අපරාන්තයේ, අනාගතේ මුල් කරගෙන ඇතිවෙච්චි හතලිස් හතර. එතකොට දහඅටයි, හතලිස් හතරයි, හැට දෙකක් දෘෂ්ටි. ඉතින් ඊළඟට භාග්‍යවතුන් වහන්සේ කුමක්ද මේ ගැන දේශනා කරන්නෙ කියලා අපි ඊළඟට බලමු. අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ මේ දෘෂ්ටීන්ගේ හටගැනීම් ගැන, ලෝකෙ කවුරුත් මේ විදියට ආගම් හටගත්ත අය විස්තර කරලා තිබ්බෙ නෑ සත්‍ය ස්වභාවය. මේ ස්වභාවය විස්තර කරනකොට දහසක් සක්වලවල් කම්පා වෙලා ගියා. මේ බ්‍රහ්මජාල සූත්‍රය දේශනා කරන වෙලාවෙ. ඒ නිසා සක්වලවල් කම්පා කරවමින් ලෝකයේ සත්ත්වයා සසරට වැටෙන මේ දෘෂ්ටි අවබෝධ කලා කියලා යමක් ඇත්ද, ඒ මාගේ ශාස්තෘ වූ බුදුරජාණන් වහන්සේ දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. ඉතින් අපි කාටත් ගෞතම බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණේ දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා.

ඉතින් පින්වත්නි අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා ගම්පහ, පල්ලියපාරේ පදිංචි පින්වත් අනුරාධා බණ්ඩාර මහත්මිය විසින් තමයි දායකත්වය දරන්නෙ. ඉතින් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ අනන්ත වූ අවබෝධ ඥාණයේ ආනුභාවයෙන්, ඒ වගේම දහසක් සක්වලවල් කම්පා කරමින් ධර්මය දේශනා කරපු ආනුභාව බලයෙන්, ඉතින් බුදුරජාණන්

වහන්සේගේ සත්‍යානුභාව බලයෙන්, බුදුරජාණන් වහන්සේගේ සත්‍ය ධර්මයේ ආනුභාව බලයෙන්, ධර්මය අවබෝධ කරපු රහතුන්ගේ ආනුභාව බලයෙන් මේ ලෝක සත්ත්වයාටත්, මව් රටටත් ව්‍යසනයක් වුනු ඒ වසංගතය දුරින්ම දුරු වෙලා මිනිස් වර්ගයාට යහපත, සැනසිල්ල, රැකවරණය සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. පින් කැමැති දෙවියෝ මේ පින් අනුමෝදන්වී සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වාගේම මියපරලොව ගිය ගයනා රාජසූරිය මැණියන්ට, මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා. පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර සංඝරත්නයටත්, සිල් මැණිවරුන්ටත්, ඒ වගේම පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් සියලු දෙනාට මේ පින් බලයෙන් ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම ගම්පහ පල්ලියපාරේ පින්වත් අනුරාධා බණ්ඩාර මහත්මියටත්, ඒ වගේම ලීලාවතී රාජසූරිය මැණියන්ට සහ රංජිත් රාජසූරිය මහත්මයාට නිදුක් නිරෝගී සුවපත්භාවය දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ධර්ම දානමය පින් බලයෙන් ගෞතම සසුනේ පිහිට ලැබේවා. ඒ වගේම මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට ගුරු භවතුන්ට සියලු දෙනාට ඔබ සියලුදෙනාට, ඒ වාගේම ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියෙනුත් ධර්මය ඇසූ සියලු දෙනාට, කාර්ය මණ්ඩලයටත්, මාධ්‍යය පවත්වාගෙන යන්නට උපකාර කරන සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. අපිටත් කිසිම දෘෂ්ටියකට ග්‍රහණය නොවී ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ සසර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=AOrry4qJt7c&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=46

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අදත් අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන ඔබ ශ්‍රවණය කරන්නෙ. අද දවසේ දහම් වැඩසටහන ශ්‍රද්ධා රූපවාහිනියේත්, ලක්විරු ගුවන්විදුලියේත් විකාශනය කරවන්නට දායකත්වය දරන්නේ, අංක 96/4, මුල්ලේගම, හෝමාගම යන ලිපිනයේ පදිංචි පින්වත් රංජීව සෙනෙවිරත්න මහත්මයා, චමිලා ඉරෝෂිණී මහත්මිය සහ චතුද් දුලේන් පුතා. ඉතින් මේ පින්වතුන් බොහෝ දෙනාට සෙත් පිණිස අද දවසේ තමන්ගේ ජීවිතයටත් අප්‍රමාණ පින් රැස් කරගැනීම මුල් කරගෙන අද දවසේ මේ ධර්ම දානය සිද්ධ කරනවා. ඔබට විශාල භාග්‍යයක් දස දහසක් ලෝක ධාතු කම්පා වූ, ලෝක ධාතු දස දහසක් කම්පා වුනා කියලා සූත්‍ර දේශනාවේ තියෙන්නෙ. එතකොට දස දහසක් ලෝක ධාතු කම්පා වූ සූත්‍ර දේශනාවක් ඔබට මේ විදියට බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ගුණ සිහි කරමින් අන් අයට අහන්න සැලැස්වීම ඔබ ධර්ම දානමය වශයෙන් කරන විශාල යහපතක් කියලා හිතලා සන්තෝෂයට පත්වෙන්න ඕන. ඉතින් අපි මේ කාලයේ කතා කරමින් හිටියේ, බ්‍රහ්මජාල සූත්‍රය. දැනට ඔබට තේරෙනවා අපි වැඩසටහන් කීපයක්ම බ්‍රහ්මජාලසූත්‍රය හා සම්බන්ධව කලා. එතකොට තේරෙනවා මේක තනි වැඩසටහනකට, පෝය වැඩසටහන්, මාසික වැඩසටහන් හෝ එහෙම නැත්නම් එක ධර්ම දේශනාවකට, පැය එකහමාරකට කරන්න පුලුවන් දෙයක් නෙවෙයි. හුදෙක් මේ වාගේ වැඩසටහනකදී පවා අපි මේවා කියවලා පොඩි සටහනක් දාගෙන මතක තියාගෙන ඒ අනුසාරයෙන් තමයි මේ ධර්ම දේශනාව සිද්ධ කරන්නෙ. වචනෙන් වචනෙ ඉගෙන ගන්නවා නම් මේ බ්‍රහ්මජාල සූත්‍රය පින්වතුනි බොහෝ කාලයක් ඉගෙන ගන්න ඕන. මේ දේශනා අටුවාවෙ තියෙනවා, මේ එක ගැටයක් ලිහන වාරයක් පාසා. ඒ කියන්නෙ එක දෘෂ්ටියක් හටගත්ත විදිය දේශනා කරනවානෙ. ඒ දේශනා කිරීමේ වාරයක් පාසා පොළොව කම්පා වුනා කියලා. එතකොට මේ දෘෂ්ටි හැටදෙක විස්තර කරලා ඉවරවෙනකොට හැටදෙවාරයක් කම්පා වුනා කියලා අටුවාවෙ විස්තර

තියෙනවා. සූත්‍ර දේශනාවෙ අවසානෙට තියෙනවා මේ ධර්ම දේශනාව සිද්ධ කරපු මොහොතේ දස දහසක් ලෝක ධාතු කම්පා වුනා කියලා. ඇත්තටම එච්චරම ආනුභාවයි, ගම්භීරයි මේ බ්‍රහ්මජාල සූත්‍රය. එතකොට මේ දේශනාව මුල් වුනේ, මේ දේශනාව කරන්න මුල් වුනේ, අම්බලට්ඨිකාවේ රාජකාගාරයේ ඉඳලා. අර සුප්පිය පිරිවැජියයි, බ්‍රහ්මදත්ත ගෝලයයි, ඒ දෙදෙනාගේ කතාව අරඹයා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා තුණුරුවන්ට බැන්නා කියලා අමුතුවෙන් අමනාප වෙන්න වත් තුණුරුවන්ගේ ගුණ කිව්වා කියලා අමුතුවෙන් උදම් වෙන්නවත් උවමනාවක් නෑ, මේවගේ පටලැවෙන්න ඕන නෑ, මේවා ලිහාගන්න කියලා. මොකද අපි යමක එකපාර ගැටිච්ච ගමන් අපිට ඒකෙ හරි වැරැද්ද හොයාගන්න බැරිව යනවා. බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝක සත්ත්වයා බුදුගුණ කියනවා කියලා ධර්මය අවබෝධ නොකරපු, ධර්මයට පැමිණිච්චි නැති, සරණට පැමිණිච්චි නැති අශ්‍රැතවත් අන්ධබාල පෘතග්ජනයන්ට බුදුරජාණන් වහන්සේගේ ගුණ විදියට පේන්නෙ, සීලය. චූල සීල, මජ්ඣිම සීල, මහා සීල. ඒ සීලය අරන් කතා කරනවා. නමුත් තථාගතයන් වහන්සේගේ අනන්ත අවබෝධය ඉදිරියේ සීලය කියන්නෙ අල්පමාත්‍ර දෙයක්. අල්පමාත්‍ර දෙයක් බුදු කෙනෙකුට. ඉතින් හරියට මනාව කියනවා නම් බුදුරජාණන් වහන්සේගේ ගුණ ගැඹුරින් භාග්‍යවතුන්වහන්සේ පරම ගම්භීර අවබෝධ කරන්න දුෂ්කර අතක්කාවචර, තර්කයට හසු නොවන, බුදුරජාණන් වහන්සේගේ අවබෝධයක් තියෙනවා නම් ඒ අවබෝධය වර්ණනා කලා නම් ඇති, ඒකම මනා වර්ණනාවක් කිව්වා. ඉතින් එහෙම දේශනා කරලා බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ පූර්වාන්තය මුල් කරගෙන, කලින් ජීවිත මුල් කරගෙන මේ ලෝක සත්ත්වයා තුළ ආගම්වාද, දෘෂ්ටිවාද, මතවාද දහඅටක් හැදෙනවා. ඒ දහඅට තමයි සාස්වතයි කියලා හැදෙනවා, මේ ලෝකෙ ඇත කියලා. ඊළඟට කෙනෙකුගේ හැදෙනවා දෘෂ්ටි ඇතැම් දේවල් සාස්වතයි, ඇතැම් දේවල් අසාස්වතයි කියලා. කියන්නෙ පෙලක් අනිත්‍යයි, පෙලක් දේවල් නිත්‍යයි. ලෝකයේ කෙළවරක් ඇත නැත කියලා දෘෂ්ටි හැදෙනවා. ඊළඟට අමරාවික්ෂේපවාදය, ඒවත් දෘෂ්ටි. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා අධිච්චසමුප්පනවාදී දෘෂ්ටි දෙකක් ඇතිවෙනවා. ඔය ටික එකතු කරපුවාම තමයි දහඅටක් දෘෂ්ටි හැදෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ ඒක ගැන විස්තර කරනවා, ඒ ටික තමයි අපි ගියපාර කතා කලේ. අද අපි කතා කරනවා භාග්‍යවතුන් වහන්සේ දේශනා කලා අපරාන්ත කල්පික දෘෂ්ටි. ඒ කියන්නෙ අනාගතේ මුල් කරගෙන දෘෂ්ටි ඇතිවෙනවා හතලිස් හතරක්. දැන් බලන්න

පින්වතුනි මේ ලෝක සත්ත්වයා අතීතයයි, අනාගතයයි අතර තමයි පටලැවෙන්නෙ. වර්තමානයේ සම්පූර්ණයෙන් මුලා වෙලා. වර්තමානය අතහැරිලම ගිහිල්ලා. අතීතයේ දේකුත් අල්ලගෙන මුලාවෙනවා. අනාගතේ දේකුත් අල්ලගෙන මුලාවෙනවා, පටලැවෙනවා. ඒකෙන් අතෑරෙන්නේ වර්තමානය. හැබැයි මුලාව තියෙන්න වර්තමානයේ. ඇයි අතීතය ගෙවී ගිය එකක්. අනාගතය නොපැමිණුන එකක්. එතකොට මේ පටලැවිල්ල තියෙන්නෙ වර්තමානයේ. නමුත් එයාට අහුවෙන්නෙ එක්කො අතීතය, එක්කො අනාගතය. අපිටත් ඕකම තමයි. අපිත් අතීතයයි අනාගතයයි අල්ලගෙන පටලැවෙන තාක් වර්තමානය අත්හැරෙනවා. ඕක තමයි ධර්මය පින්වත්නි. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කලා අනාගතයේ අපරාන්ත කල්පික දෘෂ්ටි මතවාද හතලිස් හතරක් තියෙනවා. ඒකෙන් මරණින් මතු ආත්මයක් තියෙනවා ඒක සංඥා සහිත ආත්මයක් කියලා ආගම්වාද දාසයක් තියෙනවා. මරණින් මත්තෙ ආත්මයක් තියෙනවා, ඒක සංඥා, හැඟීම් දැනීම් දැනෙන ආත්මයක් මරණින් මත්තෙ තියෙනවා කියලා ආගම් දාසයක් තියෙනවා, දෘෂ්ටි දාසයක්. මොනවද ඒ? පෙළක් ශ්‍රමණ බ්‍රාහ්මණවරු කියනවා ආත්මය කියන එක රූපයෙන් හැදිච්ච දෙයක්, සතර මහා ධාතූන්ගෙන්. මරණින් මත්තෙ මේක නිත්‍ය වෙනවා. සංඥාමය නිත්‍යයි, සංඥා එකක් මේ ආත්මය. සංඥා සහිතව නිත්‍ය වෙලා යනවා. ඒ කියන්නෙ මරණින් මත්තෙ නිත්‍ය හැඟීම් දැනීම් තියෙන ජීවයක් බවට පත්වෙනවා. ආත්මයක් බවට පත්වෙනවා. එතකොට ඔය පළවෙනි දෘෂ්ටිය. දෙවෙනි දෘෂ්ටිය, මේ ආත්මයක් තියෙනවා, ඒක අරූපියි. ආත්මයක් තියෙනවා ඒක අරූපියි, මරණින් මත්තෙ මේක නිත්‍ය වෙනවා. ඒ වගේම සංඥාවත් දැනෙනවා මේ අරූපයට. ඊටපස්සෙ තුන්වෙනි එක්කෙනා දෘෂ්ටියකට එනවා මේ ආත්මය කියන එක රූපිත් නෑ අරූපිත් නෑ, හැබැයි මරණින් මත්තේ ඒ සංඥාමය ආත්මය නිත්‍ය වෙනවා. ඊළඟ එක්කෙනා දෘෂ්ටියක්, ආගමක් ප්‍රකාශ කරනවා ඒ තමයි මේ ආත්මය කියන එක කෙළවරක් තියෙන එකක්. ආත්මයට කෙළවරක් තියෙනවා, ඒක ඒ සංඥාමය ආත්මය මරණින් මත්තෙ නිත්‍ය වෙනවා. ඊළඟ කෙනා ආගම ඉදිරිපත් කරනවා, මේ ආත්මයට කෙළවරක් නෑ, මරණින් මත්තේ සංඥාමය ආත්මය නිත්‍ය වෙනවා. ඊටපස්සෙ ඊළඟ එක්කෙනා අදහස් ඉදිරිපත් කරනවා, මේ ආත්මයට කෙළවරක් ඇත්තෙත් නෑ නැත්තෙත් නෑ. මරණින් මත්තේ ඒ සංඥාමය ආත්මය නිත්‍ය වෙනවා. ඊළඟ එක්කෙනා අදහසක් ඉදිරිපත් කරනවා, මේ සංඥාමය ආත්මයක් ඇත්තෙත් නැති, නැත්තෙත් නැති

ස්වභාවයට පත්වෙලා තියෙනවා. මරණින් මත්තෙ සංඥාමය ආත්මය නිත්‍ය වෙනවා. ඊටපස්සේ ඊළඟ එක්කෙනා කියනවා මේ ආත්මය කියන එක සංඥාවෙන් යුතු දෙයක්. ඒ නිසයි සංඥාමය ආත්මය මරණින් මත්තෙ නිත්‍ය වෙන්නෙ. ඊළඟ එක්කෙනා කියනවා මේ ආත්මය කියන එක නානාසංඥා තියෙන එකක්. මරණින් මත්තෙ නිත්‍ය වෙනවා සංඥාමය ආත්මය. ඊළඟට කියනවා මේ ආත්මය කියන එක කුඩා දෙයක්. කුඩා සංඥාවකින් හැදිලා තියෙන්නෙ. මරණින් මත්තෙ ඒ සංඥාමය ආත්මය නිත්‍යයි. තව එක්කෙනෙක් කියනවා මේ ආත්මය කියන එක අප්‍රමාණ සංඥාවකින් හැදිලා තියෙන්නෙ. ඒක මරණින් මත්තෙ ඒ සංඥාමය ආත්මය නිත්‍ය වෙනවා. තව එක්කෙනෙක් කියනවා මේ ආත්මය කියන එක ඒකාන්ත සැපයෙන් යුක්තයි. මරණින් මත්තේ ඒ සංඥාමය ආත්මය නිත්‍ය වෙනවා. ඊළඟ එක්කෙනා කියනවා මේ ආත්මය කියන එක ඒකාන්තයෙන් දුක් සහිත එකක්. මරණින් මත්තෙ සංඥාමය ආත්මය නිත්‍ය බවට පත්වෙනවා. ඊළඟ එක්කෙනා කියනවා ආත්මය කියන එක සැප දුක දෙකෙන් යුතු දෙයක්. ඒක මරණින් මත්තෙ නිත්‍ය වෙනවා. ඊළඟ එක්කෙනා කියනවා ආත්මය කියන එක දුක්සැප රහිත දෙයක්. මරණින් මත්තේ ඒ සංඥාමය ආත්මය නිත්‍ය වෙනවා. එතකොට මේන්න මේ විදියට අනාගතය මුල් කරගෙන ආත්මය සංඥා සහිතයි මේක නිත්‍යයි කියලා ආගම්වාද දෘෂ්ටි දාසයක් ඇතිවුනා. ඉතින් මේ හැම දාසයේම තියෙන ප්‍රශ්නෙ මොකක්ද, ආත්මයක් කියලා එකක් හොයනවා. ආත්මයක් අල්ලගත්ත නිසාමයි මේ තියෙන්නෙ. බලන්න හේතුඵල දහමින් කොච්චර ප්‍රශ්න විසඳෙනවාද කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා බුදුරජාණන් වහන්සේ මේ සියල්ලම අවබෝධ කලා. ඒ තමයි මේ දෘෂ්ටි වලට ග්‍රහණය වෙලා බැඳිලා ඒ ග්‍රහණය වෙච්ච් නිසා බැඳිච්ච් නිසා මේ සත්ත්වයෝ උපදින විදිය බුදුරජාණන් වහන්සේ දන්නවා. බුදුරජාණන් වහන්සේ මීට එහා උත්තරීතර දේවලුත් දන්නවා. ඒත් බුදුරජාණන් වහන්සේ මං මේවා දන්නවානේ කියලා ග්‍රහණය වෙලා නෑ, ඒ අවබෝධයට. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ දෘෂ්ටි වලට අසුනොවිච්චි නිසා ඇතුලේ සංසිඳිලා, නිවිලා, සැනසිලා වාසය කරනවා. ඉතින් මේ දෘෂ්ටි ස්පර්ශය නිසා ඇතිවෙන වේදනාවන්ගේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය බුදුරජාණන් වහන්සේ අවබෝධ කරපු නිසා බුදුරජාණන් වහන්සේ සියලු කෙලෙසුන්ගෙන් සියලු පටලැවිලි වලින් නිදහස් වෙලා සැනසිල්ලේ වාසය කරනවා. ඉතින් ආනන්ද බුදුරජාණන් වහන්සේගේ ඔය අනන්ත අවබෝධය කවුරුහරි කියනවා නම් එයා බුදුරජාණන් වහන්සේගේ ගම්භීර වූ, නුවණ මුල්

කරගෙන ප්‍රශංසා කලා වෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සත්‍ය ගුණ කියනවා නම් එහෙමයි කියන්නෙ. ඊළඟට පින්වතුනි අනාගතය මුල් කරගෙන තව හටගන්නවා, මැරිලා ගියාට පස්සෙ සංඥාවක් නෑ කියලා. ඒකට කියනවා උද්ධමාගාතික අසඤ්ඤවාදය කියලා. කලින් තිබ්බෙ උද්ධමාගාතික සංඥාවාදය. ආකාර දාසයයි. මෙතන තියෙනව උද්ධමාගාතික අසඤ්ඤවාදය ආකාර අටයි. ඉතින් මරණින් මත්තේ සංඥා රහිත ආත්මය නිත්‍ය වෙනවා කියන එකයි කියන්නෙ. ඒකෙ තියෙනවා ආත්මය රූපවත්, ආත්මය අරූපී, ආත්මය රූපී වෙන්නත් පුලුවන්, අරූපී වෙන්නත් පුලුවන්. ආත්මය රූපිත් නෑ අරූපිත් නෑ. ආත්මය කියන එක කෙළවරක් තියෙන එකක්. ඊළඟ එක්කෙනා කියනවා ආත්මය කියන එකට කෙළවරක් නෑ. ආත්මයේ කෙළවරක් ඇති නැති ස්වභාවයේ තියෙන්නෙ. ආත්මයකට කෙළවරක් ඇත්තෙත් නෑ නැත්තෙත් නෑ, හැබැයි මේක මරණින් මත්තෙ මේ සංඥා රහිත ආත්මය නිත්‍ය වෙනවා කියලා ඒ අට දෙනා ආගම් අටක දෘෂ්ටි පතුරවනවා. ඉතින් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මේක අවබෝධයෙන්ම දන්නවා. අවබෝධයෙන්ම දකිනවා. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ නිවී සැනසිලා ඉන්නෙ. බුදුරජාණන් වහන්සේ මේ අය මේ දෘෂ්ටිවල පටලැවිලා, මේ අය ඒ දෘෂ්ටි වල පටලැවිච්චි නිසා යන ලෝක ආපහු ඉපදෙන විදිය පවා දන්නවා. නමුත් බුදුරජාණන් වහන්සේ මම මේවා දන්නවා කියලා බුදුරජාණන් වහන්සේ ඒ ඥාණය ඒ දැනුම ඒ අවබෝධය ග්‍රහණය කරගෙන නෑ. මේ කිසිම දෘෂ්ටියකට පටලැවුන් නැති බුදුරජාණන් වහන්සේ ඇතුලෙන්ම නිවිලා තියෙනවා. අභ්‍යන්තරය නිවිලා. ඉතින් බුදුරජාණන් වහන්සේ මේ ස්පර්ශය මුල්කරගත්ත මේ ඇතිකරගත්ත මේ දෘෂ්ටි වල ආශ්වාදය, ආදීනවය, නිස්සරණය, යථාභූතයෙන්ම දන්නා දකිනා නිසා සියලු පටලැවිලි ඉක්මවා ගිහිල්ලා බුදුරජාණන් වහන්සේ අමා නිවනින් සැනසිල්ලේ වාසය කරනවා. ඉතින් මේවා තමයි කිව්වා ගුණ. මේ ලෝකෙ කිසි කෙනෙකුට මේ දෘෂ්ටිය ගැටමාලා මේවා හිතාගන්නවත් බෑ. මේ වාගේ ලෝක හැටදෙකක් ආගම් තියෙන බව, ඒ ආගම් හැදිච්ච විදිය ගැන විස්තර කරපු වෙන කෙනෙක් ගැන කියන්න පින්වත්නි. මේ තුන්ලෝකෙටම මේ ආගම් විස්තර කරන්නේ මේ ආගම් හැදුනේ මෙහෙමයි කියලා බුදුරජාණන් වහන්සේ. කිසි කෙනෙකුට මේවා විස්තර කරන්න බෑ. ඒකයි මේ මහපොළොව කම්පා වෙන්නෙ. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා තව අට දෙනෙකුට ආයෙ තව ආගම් අටක් ඇතිවෙනවා, ඒක ඇතිවෙන්නෙ උද්ධමාගාතික නෙවසඤ්ඤානාසඤ්ඤීවාදය. ඊළගට මරණින් මත්තේ ආත්මයක් සංඥාව

ඇත්තෙත් නැති, නැත්තෙත් නැති ආත්මයක් නිත්‍ය වෙනවා කියලා. රූපවත් වේවා ආත්මය, අරූපවත් වේවා ආත්මය, ඊළඟට රූපී අරූපී වේවා, රූපිත් නොවන අරූපිත් නොවන, ඒ වගේම කෙළවරක් ඇති, කෙළරවක් නැති, කෙළවරක් ඇති නැති, කෙළවරක් ඇත්තේත් නැති නැත්තේත් නැති ආත්මයක් කියලා එකක් තියෙනවා, ඒක මරණින් මත්තේ සංඥා ඇත්තේත් නැති නැත්තේත් නැති ඒ ආත්මය නිත්‍ය වෙනවා කියලා අටදෙනෙක් එතන ආගම්වාද ප්‍රකාශ කරනවා. එතකොට ඒ දෘෂ්ටිවාද අට ලෝකයේ පැතිරී පවතිනවා. බුදුරජාණන් වහන්සේ මේ දෘෂ්ටි මතවාද දන්නවා දකිනවා. ඒ කියන්නෙ මේ දෘෂ්ටීන් මුල් කරගෙන මේ අය මැරිලා යන ලෝක පවා බුදුරජාණන් වහන්සේට උත්පත්ති පවා පේනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ මේ සියල්ල දැනගෙන අවබෝධයට ග්‍රහණය නොවී ඒ අවබෝධය මගේ කියලා අල්ලගන්නෙ නැතිව වාසය කරනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ මේ කිසිම දෘෂ්ටියකට පටලැවෙන් නැති නිසා අභ්‍යන්තරය නිවිලා වාසය කරනවා. ඉතින් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මේ දෘෂ්ටි ස්පර්ශයෙන් හටගන්න වේදනාවන්ගේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය මනාව අවබෝධ කරගෙන පටලැවෙන්නැතිව වාසය කරනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා මේ ලෝකයේ සත්ත්වයා තව ආකාර හතකට පටලැවෙනවා, මතවාද හදාගන්නවා. උච්ඡේදවාදය. උච්ඡේදවාදය කියන්නෙ මරණින් මත්තෙ පැවැත්මක් නෑ විනාශ වෙලා යනවා, නැතිවෙලා යනවා කියන අදහසට. එයාලා කියනවා එයාලා හත්දෙනා මෙහෙම කියන්නෙ, මෙතන තියෙනවා එක්කෙනෙක් කියනවා සතර මහා ධාතූන්ගෙන් හටගත්, මව්පියන්ගේ එක්වීමෙන් හටගත් මේ රූපී මේ ආත්මය මරණින් මත්තේ විනාශ වෙලා යනවා, එක්කෙනෙක් කියනවා. ඔන්න මරණින් මත්තෙ නෑ, ඒ කියන්නෙ මැරිච්ච ගමන් ඔක්කොම ප්‍රශ්න ඉවරයි. දැන් ලෝකෙ ගොඩාක් අයගේ තියෙන්නෙ ඒකනෙ, මැරුණට පස්සෙ මේ ප්‍රශ්න ඔක්කෝම ඉවරයි කියලානෙ, උච්ඡේද දෘෂ්ටිය. මරණින් මත්තේ උපතක් තියෙනවා කියලා පිළිගන් නෑනෙ. එතකොට ගොඩාක් අය හිතන්න මරණින් මත්තේ දෙවියන් වහන්සේ ළඟට ගිහිල්ලා නිත්‍ය වෙනවා කියලානෙ. එතකොට මේ උච්ඡේද දෘෂ්ටියනෙ. සාස්වත උච්ඡේද දෘෂ්ටිවලනෙ පටලැවෙන්නෙ. ඊටපස්සෙ තියෙනවා, ඊළඟ එක්කෙනා කියනවා නෑ එහෙම වෙන් නෑ, මේ ආත්මෙන් මැරිලා ගිහිල්ලා දෙවියන් අතරට යනවා. ඊටපස්සෙ ඒ දෙවියන් අතරට ගියාට පස්සෙ ඒ දෙවියන්ගෙන් චුත වුනාට පස්සෙ නැත්තටම නැතිවෙලා යනවා. ඒ දෙවියන් වහන්සේ ළඟට ගියාට පස්සෙ මේ ප්‍රශ්න ඉවරයි, එතනින් එහාට දුකක්

නෑ කියන එකනෙ. එතකොට බලන්න මේ උච්ඡේදවාදය. ඊටපස්සෙ ඊළඟ එක්කෙනා කියනවා, නෑ නෑ එහෙම වෙන්නෙ නෑ, දෙවියන් අතරට ගියාට පස්සෙ එතනින් දෙවියෙන්ගෙන් මනෝමය කයක් ලැබෙන ලෝක තියෙනවා. එතෙන්ට ගියාට පස්සෙ මේක නිදහස් වෙනවා. ඊළඟ එක්කෙනා කියනවා, නෑ එහෙම නැතිවෙලා යන්නෑ. මේ රූපී ස්වභාවය, සතරමහා ධාතු ස්වභාවය ඉක්මවලා යන්න ඕන, ආකාසානඤ්චායතනයට. ආකාසය අනන්තයි කියලා අරූප ධ්‍යානයකට. එතෙන්ට ගියාම මේ ප්‍රශ්න ඔක්කොම විසඳෙනවා, එතන තමයි නිවන් දකින තැන. ඊළඟ එක්කෙනා කියනවා නෑ නෑ නෑ ආකාසානඤ්චායතනය නෙවෙයි, විඤ්ඤාණය අනන්තයි කියලා හිතට අරමුණක් අරන් හිත එකඟ කරන්න ඕන. එතන තමයි තියෙන්නෙ සියල්ල නැතිවෙන තැන, විඤ්ඤාණඤ්චායතනය. එක්කෙනෙක් කියනවා නෑ නෑ එහෙම නෙවෙයි, ඒ විඤ්ඤානඤ්චායතනය ඉක්මවලා කිසිවක් නෑ කියන අරමුණෙන්, ඒ අරූපය තුළ හිත එකඟ කරන්න ඕන, එතකොට කිසිවක් නෑ, ආකිඤ්චඤ්ඤායතනය. එතනින් සියලුම දේවල් නැතිවෙනවා. ඊටපස්සෙ එක්කෙනෙක් කියනවා නෑ එය ඉක්මවලා, ආකිඤ්චඤ්ඤායතනය ඉක්මවලා ඒතං සන්තං ඒතං පනීතං මෙයමයි ශාන්ත, මෙයමයි ප්‍රණීත කියන අරමුණ හිතේ පවත්වලා පවත්වලා නෙවසඤ්ඤානාසඤ්ඤායතනයට හිත ගන්න ඕන. ආන්න එතකොට නම් එතනින් ප්‍රශ්නෙ විසඳෙනවා කියලා කට්ටිය කියනවා. ඕක තමයි කිව්වා උච්ඡේදවාදය. එහෙනම් ඒ කාලෙ අරූප ධ්‍යාන වඩපු අයටත් තිබිලා තියෙන්නෙ උච්ඡේදවාදය, එතනින් එහාට කිසිවක් නෑ කියන එක. එතකොට භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මේකත් දන්නවා, මේ අය මේ දෘෂ්ටි ග්‍රහණය කරගෙන ඉඳලා මැරිලා යන තැනුත් දන්නවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දන්නවා මේ කිසිම දේකට භාග්‍යවතුන් වහන්සේ මේ කිසිම දෘෂ්ටියකට බැඳීමක් නැති නිසා ඇතුලේම නිවිලා. මේ අය මේ දෘෂ්ටි වලට පටලැවිලා දෘෂ්ටි ස්පර්ශයෙන් හටගත්ත වේදනාවන්ට අහුවෙලා ඉන්නවා, භාග්‍යවතුන් වහන්සේ එහි ආශ්වාදය, ආදීනවය, නිස්සරණය දන්නවා, මේ සියලු ගැටවලින් නිදහස් වෙලා වාසය කරනවා. ඉතින් ඔන්න ගුණ කියනවා නම් බුදුරජාණන් වහන්සේගේ මේ සියල්ල අවබෝධ කරගෙන ඒ සියල්ලෙන් නිදහස් වෙලා හිටපු භාග්‍යවතුන් වහන්සේගේ ගාම්භීර වූ ගුණ නුවණ කියනවා නම් ඔන්න ඕක සුදුසුයි. ඉතින් බලන්න ඒ කාලේ ලෝකෙ ආගම් කියලා කොච්චර දේවල් තිබ්බද. ඒ සියල්ලගෙන් අපගේ භාග්‍යවතුන් වහන්සේ නිදහස් වුනා. ඉතින් පින්වත්නි, ඒ වගේම බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, මේ විදියට

පින්වත් මහණෙනි, ඊළඟට පිරිසට තව කණ්ඩායම් පහක් ඉන්නවා. එයාලාට දෘෂ්ටියක් ඇතිවෙනවා දිට්ඨධම්මනිබ්බාණවාදය කියලා. මේ ජීවිතේදිම නිවන් දකින්නේ මෙහෙමයි කියලා ආගම් පහක් තියෙනවා. ඒ එක පිරිසක් කියනවා, ඒ ආගම් පහෙන් පළවෙනි එක. මේ ජීවිතේ හැකිතාක් කම්සැප විඳින්න ඕන. මේ ජීවිතේ හැකිතාක් කම්සැප විඳින්න ඕන, ඒක තමයි නිවන. දැන් ඒකනෙ කියන්නෙ මේ කෙල්ල ගෙදරින් දුන්නා නම් නිවන් දැක්කා වගේ, ඔය දෘෂ්ටි. එතකොට කාමය, අනේ ගෙයක් හදාගත්තා නම්, වාහනයක් ගත්තා නම්, දරුපවුල් වුනා නම්, ඊළඟට ඒ වගේ නොයෙක් දේවල් හිතනවා. ඒ ඔක්කෝම පඤ්චකාමයත් එක්ක තියෙන්නෙ. ඔන්න දිට්ඨධම්මනිබ්බාණවාදයේ පළවෙනි එක. අනිත් අය කියනවා ඒක මේ පඤ්චකාමය භුක්ති විඳලා සැපක්, සොම්නසක්, ප්‍රීතියක් හටගන්න බව හැබෑව. හැබැයි මේ පඤ්චකාමය අනිත්‍යයි, වෙනස් වෙනවා, ඊළඟට දුක් සහිතයි, පීඩා සහිතයි, ඊළඟට කෙලෙස් සහිතයි, එහෙම නෙවෙයි, මේ පඤ්චකාමයේ තියෙන පීඩාව ඉක්මවලා ගිය විවිච්චේව කාමේහි විවිච්චේව අකුසලේහි සවිතක්කං සවිචාරං විවේකජං පීති සුඛං පටමජ්ඣානං උපපජ්ජ විහරති. කාමයෙන් ඉක්මවා ගිය, අකුසල ධර්මයන් ඉක්මවා ගිය විවේකයෙන් හටගත්තු ප්‍රීති සුඛයෙන් යුතු, විතක්ක විචාර සහිත, ප්‍රීතිසුඛ සහිත, පළවෙනි ධ්‍යානය, විවේකජං පීති සුඛං, විවේකයෙන් හටගත්තු ප්‍රීති සැපය ඇති පළවෙනි ධ්‍යානයේ හිත වාසය කරනවා, ආන්න එතෙන්ට ගියා නම් ඒක තමයි නිවන කියලා. එතකොට පළවෙනි ධ්‍යානයට ඉක්මවලා තියෙනවා තවත් ශ්‍රමණ කණ්ඩායම් ටිකක්. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා තව පිරිසක් හික්මවලා තියෙනවා එයාලා කිව්වා ඔහොම සමාධියක් තියෙන බව හැබෑව. දැන් මේ තියෙන්නෙ ඒ ආගම්වාද ඉදිරිපත් කරන අය තමන්ට තමන්ගෙ හිත ගන්න පුලුවන් උපරිමේට අරන් එතන නිවනයි කියලා කියනවා. එතකොට දැන් ඊළඟ පිරිස කියනවා ඕක ඇත්ත, නමුත් විතක්ක විචාර කියන එක ඕලාරිකයි, ගොරෝසුයි. ඒ නිසා එය ඉක්මවලා ගිය සමාධියෙන් හටගත්ත ප්‍රීති සුඛය ඇති දෙවෙනි ධ්‍යානයට පැමිණ වාසය කරනවා නම් ඒක තමයි නිවන කියලා. දැන් බලන්න නිගණ්ඨනාථපුත්ත දෙවෙනි ධ්‍යානය විශ්වාස කලේ නෑනෙ. එතකොට එයාගෙ නිගණ්ඨනාථපුත්තගේ උපරිම විශ්වාසය තිබ්ලා තියෙන්නෙ පළවෙනි ධ්‍යානයේ. මොකද නිගණ්ඨනාථපුත්ත අහනවානෙ චිත්ත ගෘහපතිතුමාගෙන් විතක්ක විචාර සංසිඳවන සමාධියක් ගැන ශ්‍රමණ භවත් ගෞතමයන් කියනවා ඔහේ ඒක පිළිගන්නවද කියලා. අනේ මං පිළිගන්නෑ කිව්වා චිත්ත

ගෘහපතිතුමා. අනේ සාදු මේ බලන්න කිව්වා බණ අහන්න ගියාට ඇත්ත කතා කරන මනුස්සයෙක්. ඊටපස්සෙ චිත්ත ගෘහපතිතුමා කිව්වා විතක්ක විචාර ඉක්මවා ගිය දෙවෙනි ධ්‍යානයේ මම කැමැති තාක් පැහැස වාසය කරනවා. එතකොට මමම ඒක උපදවා වාසය කරනවා නම් මම තවත් කෙනෙක් කියන එක විශ්වාස කරන්න ඕන නෑ කිව්වා මට. එතකොට දැන් ආයෙ නිගණ්ඨ කියනවා මේ බලාපං මේකගෙ තියෙන කපටිකම කියලා චිත්ත ගෘහපතිතුමාට බනින්න ගත්තා. චිත්ත ගෘහපතිතුමා කිව්වා ඉස්සෙල්ලා ප්‍රශංසා කරපු එක ඇත්ත නම් දැන් බනින එක වැරදියි. දැන් බනින එක වැරදියි නම් ඉස්සෙල්ලා ප්‍රශංසා කරන එක වැරදියි කියලා කිව්වා මං එහෙනම් ප්‍රශ්නයක් අහන්නම්. එක කියන්නෙ මොකක්ද? දෙක කියන්නෙ මොකක්ද? කිය කියා ප්‍රශ්න අහන්න ගත්තා, එක්කෙනෙකුටවත් උත්තරයක් දීගන්න බෑ. නිගණ්ඨයො ටික සලිත කරලා චිත්ත ගෘහපතිතුමා එතනින් නැගිටලා එනවා. එතකොට ඒවගේ ඒ කාලයේ පළවෙනි ධ්‍යානයෙන් එහාට සමහර අය දැකලා නෑ, සමහර අය දෙවෙනි ධ්‍යානය. දැන් මේ අය දෙවෙනි ධ්‍යානය නිවන කියලා හිතනවා. සමහර අය කියනවා ඔහොම ධ්‍යානයන් තියෙනවා තමයි, ඒ වුනාට ඕකෙ තියෙන ප්‍රීතිය කියන එක, ඕකෙ තියන සැපය ගොඩාක් ඕලාරිකයි. කියලා ඊටපස්සෙ ප්‍රීතියෙන් වාසය කරන තුන්වෙනි ධ්‍යානයට සමවදිනවා. ප්‍රීතිරාච විහාරා උපෙක්ඛෝ විහරති සතෝසම්පජානෝ සුකංච කායේන පටිසංවේදීති. ප්‍රීතිය තමයි ඔතන තියෙන ඕලාරික දේ. සැපය හිතේ පවත්වාගෙන තියෙන සමාධියත් එක්ක වාසය කරනවා කියලා තුන්වෙනි ධ්‍යානය කියනවා, මේක නිවන. ඊටපස්සෙ පිරිසක් කියනවා නෑ නෑ ඔහොම එකක් තියෙනවා තමයි. ඒ වුනාට සැපයත් ප්‍රහාණය කරලා, දුකත් ප්‍රහාණය කරලා උපෙක්ෂාවෙන් හටගත්ත හොඳ පිරිසිදු සමාධියක් තියෙනවා. කලින්ම සොම්නස්, දොම්නස් නැතිවෙච්ච. ඒ තමයි හතරවෙනි ධ්‍යානය. ආන්න ඒ ධ්‍යානය තුළ නම් අමා මහ නිවන තියෙනවා කියලා හතරවෙනි ධ්‍යානය නිවන විදියට දකිනවා. එතකොට ඒ කාලෙ කොහොමද තිබ්බෙ. ඉතින් ඒ කාලෙ නිවන් හොයාගෙන ගියාට පස්සෙ මේ වගේ තමයි නවතින්නෙ. ඒකනේ සිද්ධාර්ථ මහා බෝධිසත්ත්වයන් වහන්සේ නිවන සොයාගෙන යද්දි ගුරුවරු දුන්නු අග්‍රම තැන් දුන්නෙ නෙවසඤ්ඤානාසඤ්ඤායතනයට යනකල්. ඉතින් ඒ නිසා නමුත් මහා බෝධිසත්ත්වයන්ගේ ප්‍රඥාස්කන්ධයට හැම වෙලාවෙම ගෝචර වුනා මෙතනත් උපතක් තියෙනවා කියලා. ඒ නිසා මේ සියල්ල ඉක්මවා ගිය අමා මහ නිවන ලබාගැනීම පිණිස ඒ බුදුරජාණන් වහන්සේ ඒ ගමන් මාර්ගයේ ගමන් කලා.

ඉතින් ලෝකයා මේ ආගම් වල බැසගෙන හිටියා. ඉතින් භාග්‍යවතුන් වහන්සේ කියනවා මේ ස්වභාවය දිට්ඨධම්මනිබ්බානවාදය කියන එක කොහොමද ඇතිවුනේ මොකක්ද මේකෙ ස්වභාවය කියලා භාග්‍යවතුන් වහන්සේ දන්නවා. ඒ භාග්‍යවතුන් වහන්සේ දන්නවා මෙයාලා මේ දෘෂ්ටි ග්‍රහණය කරගෙන ඉඳලා මැරිලා කොහෙද යන්නෙ කියලා. බුදුරජාණන් වහන්සේ සියල්ල දැනගත්තාට ඒ කිසිම දේකට ග්‍රහණය වෙලා නෑ. මේ කිසිම දෘෂ්ටියකට තමන් ග්‍රහණය වෙලා නැති නිසා තමන් ඇතුලෙම නිවිලා ඉන්නෙ. මේ ලෝක සත්ත්වයා මේ දෘෂ්ටිවාදයෙන් හටගත්ත වේදනාවෙන් ලෝක සත්ත්වයාගේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය බුදුරජාණන් වහන්සේ අවබෝධ කරගෙන සැනසිල්ලේ නිදහස් වෙලා සිටින්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කලා ඔන්න අපරාන්ත කල්පික මතවාද හතළිස් හතර. දැන් ඔතන තියෙනවා හතලිස් හතරක්. බුදුරජාණන් වහන්සේ දේශනා කලා ඒ හතලිස් හතරම භාග්‍යවතුන් වහන්සේ අවබෝධ කලා. ඒ හතලිස් හතරම පිළිපදින අය මැරිලා කොහේද යන්නේ කියලා අවබෝධ කලා. ඒ දෘෂ්ටිය බුදුරජාණන් වහන්සේ ඒවා දකින අවබෝධය මම මගේ කියලා ග්‍රහණය කරගත්තෙ නෑ, මේ කිසිම දෘෂ්ටියකට නොපැමිණුන බුදුරජාණන් වහන්සේ ඇතුලේම නිවිලා වාසය කලා. බුදුරජාණන් වහන්සේ මේ කිසිවකට නොඇලී මේ දෘෂ්ටි මතවාද ස්පර්ශයෙන් හටගත්ත වේදනාවන්ගේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය දන්න බුදුරජාණන් වහන්සේ සියල්ලෙන් නිදහස් වෙලා වාසය කරනවා. ඉතින් ගුණ කියනවා නම් ඔහොම තමයි කිව්වා ගුණ කියන්න ඕන. බුදුරජාණන් වහන්සේගේ අනන්ත අවබෝධය ගාම්භීරයි පින්වත්නි. ගාම්භීරයි. එතකොට මේක තේරෙනකොට තමයි පුදුම සහගත හිතෙන්නෙ. මේක තමයි පුදුම සහගත බුදුගුණ. ලෝකයේ කිසි කෙනෙකුට මෙහෙම හිතන්න බෑ, ඒකනේ මේ මිහිමඩල කම්පා වෙන්නෙ. දෙවියන්ටවත්, බ්‍රහ්මයන්ටවත් මේකෙ අග මුල පේන් නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා පින්වත් මහණෙනි, මේ විදියට පූර්වාන්ත, අපරාන්ත මුල් කරගෙන මේ විදියට මතවාද හැට දෙකක් හැදෙනවා. ඇයි පූර්වාන්තය මුල් කරගෙන දහඅටයි, අපරාන්තය මුල් කරගෙන හතලිස් හතරයි. මේ සියලු මතවාද ගැන භාග්‍යවතුන් වහන්සේ දන්නවා. ඒවා මුල් කරගෙන සත්ත්වයෝ මැරිලා උපදින හැටිත් දන්නවා. බුදුරජාණන් වහන්සේගේ අවබෝධයට බුදුරජාණන් වහන්සේ ඇලීමක් ඇති කරගෙනත් නෑ. ඒ සියලු දෘෂ්ටි හැටදෙකෙන්ම නිදහස් වුනු බුදුරජාණන් වහන්සේ ඇතුලේ නිවී සැනසී, ඇතුලේ නිවාගෙන වාසය කරනවා. ඇවිලිලා නෑ. බුදුරජාණන් වහන්සේ මේ

දෘෂ්ටි හැට දෙකේම ඉන්න සත්ත්වයා ස්පර්ශයෙන් විඳින වේදනාවන්ගේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය බුදුරජාණන් වහන්සේ දැනගෙන අවබෝධ කරගෙන නිදහස් වෙලා වාසය කරනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කලා පින්වත් මහණෙනි, සාස්වතවාදී දෘෂ්ටි හතරක් තියෙනවා. ඒ හතරම ඔවුන්ගේ නොදැක්මයි. ඒ හතරම විඳීමකට අයිති දෙයක්. ඊළඟට තෘෂ්ණාවට පැමිණි ඔවුන්ගේ කැළඹීමක් ඕක, තැතිගැනීමක්. ඒ වගේම සාස්වත අසාස්වත කියන දෘෂ්ටි දෙකම තියෙන ආගම්වාද හතරක් තිබ්බා. ඒකත් ඒ අයගේ නොදැනීම. විඳීමකට අයිති දේවල් ඕවා. තෘෂ්ණාවකට පැමිණි ඔවුන්ගේ කැළඹීමක්, තැතිගැනීමක් ඕක. ලෝකයේ අන්තවත් ද අනන්තවත් ද කියලා දෘෂ්ටි තිබ්බා හතරක්. ඒ ඔක්කෝම ඔවුන්ගේ නොදැනීමක්. විඳීමකට අයිති දෙයක්. තෘෂ්ණාවකට පැමිණි ඔවුන්ගේ කැළඹීමක්, තැතිගැනීමක්. අමරාවික්ෂේපවාද හතරක් තිබ්බා. බුදුරජාණන් වහන්සේ වදාළා ඔවුන්ගේ ඒක නොදැනීමක්, විඳීමකට අයිති දෙයක්. තෘෂ්ණාවකට පැමිණි ඔවුන්ගේ කැළඹීමක්, තැතිගැනීමක්. ඒ වාගේම අධිච්චසමුප්පන්න වාද දෙකක් තිබ්බා. ඒ සියල්ලම ඔවුන්ගේ නොදැනීමක්. විඳීමකට අයිති දෙයක්. තෘෂ්ණාවකට පැමිණි ඔවුන්ගේ කැළඹීමක්, තැතිගැනීමක්. මේ විදියට පූර්වාන්තය මුල් කරගෙන දෘෂ්ටි දහ අටක් ඇතිවුනා, ඒ දහඅටම නොදැනීමක්. විඳීමකට අයිති දෙයක්. තෘෂ්ණාවකට පැමිණි ඔවුන්ගේ කැළඹීමක්, තැතිගැනීමක්. ඊළඟට තියෙනවා උද්දුමාදක සඤ්ඤීවාද දාසයක්. ඒ දාසයම නොදැනීමක්. තෘප්තියකට අයිති දෙයක්. විඳීමකට අයිති දෙයක්. තෘෂ්ණාවට පැමිණි ඔවුන්ගේ කැළඹීමක්, තැතිගැනීමක්. ඒ වගේම තිබුනා උද්දමාගාතනිකා අසඤ්ඤීවාදය. ඒ උද්දමාගාතනිකා අසඤ්ඤවාද අටක් තිබ්බා. ඒ අටම ඔවුන්ගේ නොදැනීම, විඳීමකට අයිති දෙයක්. තෘෂ්ණාවෙන් බැඳුනු ඔවුන්ගේ කැළඹීමක්, තැතිගැනීමක්. ඒ වගේම උද්දමාගාතනිකා, නෙවසඤ්ඤානාසඤ්ඤාවාද තිබුනා අටක්. ඒ අටම ඔවුන්ගේ නොදැනීම, විඳීමකට අයිති ඒවා. ඒ වගේම තෘෂ්ණාවට පැමිණි ඔවුන්ගේ කැළඹීමක්. තැතිගැනීමක්. උච්ඡේදවාද හතක් තිබ්බා. ඒකත් ඔවුන්ගේ නොදැනීමක්. විඳීමකට අයිති දෙයක්. තෘෂ්ණාවකට පැමිණිච්ච ඔවුන්ගේ තැතිගැනීමක්, ඒ වගේම කැළඹීමක්. ඒ වගේම දිට්ඨධම්මනිබ්බාණවාද පහක් තිබ්බා. මේ පහම නොදැනීමක් ඔවුන්ගේ. විඳීමකට අයිති දෙයක්. තෘෂ්ණාවට පැමිණි ඔවුන්ගේ කැළඹීමක්, තැතිගැනීමක්. ඒ වගේම බුදුරජාණන් වහන්සේ දේශනා කලා දැන් බලන්න කිව්වා අපරන්තකල්පික දෘෂ්ටිවාද හතලිස් හතරක් ඔය. ඔය හතලිස් හතරම

ඔවුන්ගේ නොදැනීම. ඔය හතලිස් හතරම විදීමකට අයිති එකක්. තෘෂ්ණාවට පැමිණි ඔවුන්ගේ කැළඹීමක්, තැතිගැනීමක්. පින්වතුනි මේ ඔක්කෝම ටික පෙර ජීවිතයක් බලලා හෝ ඉදිරි ජීවිතයක් බලලා හෝ තර්ක කරලා හෝ ඒ ඔක්කොම ස්පර්ශයෙන් හටගත්තු ඒවනෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ ආගම්වාද හැටදෙකම ඔවුන්ගේ නොදැනීමක්. විදීමකට අයිති දෙයක්. තෘෂ්ණාවකට පැමිණි ඔවුන්ගේ කැළඹීමක්, තැතිගැනීමක් කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කලා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මේ පූර්වාන්ත අපරාන්ත මුල් කරගෙන හටගන්න මේ ආගම්, දෘෂ්ටිවාද හැටදෙකම ඔවුන්ගේ නොදැනීම නිසා ඇතිවෙන්නෙ. අනවබෝධය නිසා. ඒ වගේම මේ ඔක්කොම අහුවුනේ විදීමකට. ඒ වගේම තෘෂ්ණාවකට පැමිණිලා ඔවුන්ගේ හිත තුළ වෙච්චි කැළඹීමක් ඕක, තැතිගැනීමක්. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මේ ආගම්වාද හැට දෙක ගැනම බුදුරජාණන් වහන්සේ නැවත දේශනා කරලා කියනවා මේ සියල්ලම හටගන්නෙ ස්පර්ශ ප්‍රත්‍යයෙන් කියලා. සාස්වතවාදී වුත්, අසාස්වතවාදී වුත්, අමරාවික්ෂේපවාදය, අධිච්චසමුප්පන්නය, ඊළඟට උද්ධමාගාතනික සඤ්ඤීවාදය, අසඤ්ඤීවාදය, නෙවසඤ්ඤානාසඤ්ඤාවාදය, උච්ඡේදවාදය, දිට්ඨධම්මනිබ්බාණවාදය, මේ ඔක්කෝම ස්පර්ශ ප්‍රත්‍යයෙන්. හරිනෙ. අතීතයේ වෙච්චි දෙයක් දැකලා. අනාගතේ වෙන දෙයක් හිතලා. දැන් එයාලා සමවදින සමාධියක් ඇසුරින්. ඔක්කොම ස්පර්ශය මුල් කරගෙන. තර්ක කරලා හිතින් අරමුණු ස්පර්ශ කරලා, ඒ විදියට මේ සියලු දෘෂ්ටි ස්පර්ශය මුල් කරගෙන ඇතිවෙන්නෙ කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ සියලුම දෘෂ්ටි මේ දෘෂ්ටි හැටදෙකම බුදුරජාණන් වහන්සේ නැවත විස්තර කරනවා. විස්තර කරලා දේශනා කරනවා, ඒ දෘෂ්ටි ආස්වාදය, ස්පර්ශයෙන් තොරව විඳිනවා යන්න සිදුවිය නොහැකියි. දැන් මෙයා දෘෂ්ටි ආස්වාදයක් විඳිනවානෙ, මං මෙහෙම හොයාගත්තා කියලා. මං පෙර ජීවිත ලක්ෂයක් බැලුවා. එතකොට මම දැක්කා මම යන්නෙ මේ ලෝකෙමයි, ඒ නිසා ලෝකෙ සාස්වතයි. ලෝකය ස්ථිරසාරයි, ආත්මය ස්ථිරසාරයි කියලා සාස්වතවාදයට ආවනෙ. එතකොට එයා ඒ දෘෂ්ටිය ලෝකෙට දුන්නානෙ. එතකොට ඒකෙන් එයාට ආස්වාදයක් තියෙනවානෙ. ආන්න ඒ ආස්වාදය ස්පර්ශ ප්‍රත්‍යයෙන් හටගත්තේ කියලා කිව්වා. වෙන දේකින් නම් නෙවෙයි කියනවා. මේ ආගම් හැටදෙකම මේ දෘෂ්ටිවාද හැටදෙකම එයාලා ඉදිරිපත් කරන්නෙ ඒ හිතේ ආස්වාදයකින්. ඒ ආස්වාදය ස්පර්ශයෙන් තොරව විඳිනවා කියන එක සිදුවිය නොහැකියි. ඇයි භාග්‍යවතුන් වහන්සේ

දසබල ඥාණ තුළ පිහිටලා මේ ධර්මය දේශනා කරන්නෙ. සිදුවිය හැකි දේ නොහැකි දේ භාග්‍යවතුන් වහන්සේ දන්නවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා පින්වත් මහණෙනි, බුදුරජාණන් වහන්සේ හරී ලස්සනට මේ විස්තරය දේශනා කලා ඒ තමයි බුදුරජාණන් වහන්සේ මේ දෘෂ්ටි හැටදෙකම විස්තර කලා ආයෙ, ආයෙ විස්තර කරලා දේශනා කරනවා පින්වත් මහණෙනි, පුබ්බන්තාපරන්තං ආරබ්බ අනේකවේතානි අධිවුත්ති පදානි අභිවදන්ති ද්වාසච්චයා වත්තූහි. පූර්වාන්තය, අපරාන්තය මුල් කරගෙන මේ විදියේ පැනවීම් හැටදෙකක් තියෙනවා. ඒ වස්තු හැටදෙකම සබ්බේතේ චහි පස්සාතනේහි පුස්ස පුස්සපටිසංවේදෙන්ති, මේ ආගම් හැටදෙකම ස්පර්ශයෙන් මුල් කරගෙන, ස්පර්ශයෙන් ආයතන හයේ ස්පර්ශ කර කර තමයි විදින්න තියෙන්නෙ. මෙයාලගේ මේ ආගම්වාද මේ ඔක්කෝම ආයතන හයත් එක්කනෙ තියෙන්නෙ කිව්වා. ස්පර්ශ ආයතන කියන්නෙ, ඇස, කණ, නාසය, දිව, කය, මනස ඒවගෙන්නෙ එයාලා ඔක්කොම ටික, එක්කො බලපු දෙයක්, අහපු දෙයක්, හිතපු දෙයක්, දැනිච්ච දෙයක්, ඊළඟට එයාලා මෙහෙම වෙනවයි කියලා මනසින් ගත්තු අරමුණු, එතකොට ස්පර්ශ ආයතන ස්පර්ශ කර කරනෙ ආගම් මතවාද ගෙනියන්නෙ. ඒවා විඳින්නෙ. ඉතින් එයාලා ඒ ආගම් මතවාද වින්දනය කරනවානෙ. තේසං වේදනා පච්චයා තණ්හා, ඉතින් වේදනාව යම් තැනක නම් එතන තණ්හාව තියෙනවානෙ. වේදනා පච්චයා තණ්හා. තණ්හා පච්චයා උපාදානං. තෘෂ්ණාව යම්තැනක නම් උපාදානය එතැනනෙ. ග්‍රහණය වෙනවානෙ, බැඳෙනවානෙ. උපාදාන පච්චයා භවො, උපාදානයෙන් භවය සකස් වෙනවානෙ. භව පච්චයා ජාති, භවය නිසා උත්පත්තිය සකස් වෙනවානෙ. ජාති පච්චයා ජරාමරණං සෝක පරිදේව දුක්ඛ දෝමනස්සුපායාසා සම්භවන්ති. ඉතින් ඉපදෙනවා නම් එතන සෝක පරිදේව දුක්ඛ දෝමනස්ස ජරා මරණ තියෙනවානෙ. යථෝ කෝ භික්ඛවේ භික්ඛූ චන්නං පස්සායතානනං සමුදයංච අත්තංගමච්ච අස්සාදවංච ආදීනවංච නිස්සරණංච යථාභූතං පජානාති, ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පින්වත් මහණෙනි, යම් කලෙක භික්ෂුව මේ ස්පර්ශ ආයතන හයේ හටගැනීමත් ඒ වගේම නැතිවීමත්, ඒ වගේම ආශ්වාදයත්, ආදීනවයත්, නිස්සරණයත්, ඒ ආකාරයෙන්ම අවබෝධ කලොත් යම්කිසි භික්ෂුවක් අයං ඉමේහි සබ්බේහේව උත්තරිං පජානාති. ඒ කෙනා මේ ආගම් දෘෂ්ටි හැට දෙකම ප්‍රහාණය කරලා උත්තරීතර දෙයක් ඔහුට ලැබෙනවා, මොකක්ද ඒ? අමා මහ නිවන. දැන් අර කට්ටිය ආගම් හැට දෙකක කැරකිලා කැරකිලා

අවසානෙ පටිච්ච සමුප්පාදයටමනෙ වැටුනෙ. හේතුඵල දහමටමනෙ වැටුනෙ. එයාලා සකස් කරලා තියෙන්නෙ සසරනෙ. එයාලත් මෙච්චර දෘෂ්ටි ගොඩාක් කිය කියා ඉඳලා හේතුඵල දහමනෙ සකස් කර කර ඉඳලා තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඒ නිසා මේ ලෝකෙ මේ ඔක්කෝම ටික හටගන්නෙ ස්පර්ශ ආයතන හය නිසා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ දේශනා කලා මේ ස්පර්ශ ආයතන හයෙන් ආස්වාදය, ආදීනවය, නිස්සරණය මුලින් සමුදය අත්තංගමය, හටගැනීම නැතිවීම, ආස්වාදය ආදීනවයේ නිස්සරණය, යම්කිසි භික්ෂුවක් අවබෝධ කලා නම් ඒ භික්ෂුව මේ සියල්ලගෙන්ම නිදහස් වෙනවා කියලා. බලන්න මෙයාලා මුලු ජීවිත කාලෙම මෙයාලගේ සසරටම එක එක සමාධි උපද්දවලා එක එක තර්ක විතර්ක කරලා හදාගත්ත ආගම්වාද හැට දෙකම මේ ඇස, කණ, නාසය, දිව, කය, මනස කියන ආයතන අනිත්‍ය වශයෙන්, දුක් වශයෙන්, අනාත්ම වශයෙන් අවබෝධ කරපු ගමන් ඔක්කොම ප්‍රහාණය වෙනවානෙ. මේ සියලු ආගම් මතවාද ටික ඔක්කෝම හිතේ බැසගන්නෙ ඇස, කණ, නාසය, දිව, කය, මනස කියන ආයතන හය අනිත්‍ය වශයෙන්, දුක් වශයෙන්, අනාත්ම වශයෙන් දකින්න බැරි නිසානෙ. මේ ආයතන නිසා නාමරූප නිසා හටගත්තු බවත්, නාමරූප නැතිවීමෙන් නැතිවී යන බවත් දන්නැති නිසානෙ. මේ ආයතන හය මුල් කරගෙන සුකක්සොම්නසයක්, සැපක් සොම්නසක් හටගන්නවා නම් ඒක තමයි ආස්වාදය කියලා දන්නැති නිසානෙ. මේ ආයතන හය අනිත්‍යයි, දුකයි, වෙනස්වන ස්වභාවයෙන් යුක්තයි, ඒක තමයි ස්පර්ශ ආයතන හයේ ආදීනවය කියලා අවබෝධ නොකරපු නිසානෙ. ස්පර්ශ ආයතන හය කෙරෙහි යම්කිසි ඡන්දරාගයක් තියෙනවා නම් ඒක ප්‍රහාණය කිරීම තමයි නිස්සරණය කියලා අවබෝධ නොකරපු නිසානෙ. ඉතින් මේ විස්තරය බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා. මේ විස්තරය බුදුරජාණන් වහන්සේ දේශනා කරලා, බුදුරජාණන් වහන්සේ උපමාවකින් විස්තර කරනවා, මේ ලෝක සත්ත්වයා මේ දෘෂ්ටි ටිකට අහුවුනේ, හරියට පුංචි වතුර පාරක් පුංචි වතුර දියකඩිත්තකට දැලක් දැම්මා වගේ. පුංචි වතුර කඩිත්තකට දැලක් දැම්මට පස්සෙ වතුර කඩිත්තෙ ඉන්න මාලුවො පුංචි හෝ ලොකු හෝ සියුම් දැලක් දාලා තියෙන්නෙ. ඒ මාලුවො උඩට ආවත් යටට ගියත් එහෙ මෙහෙ දිව්වත් ඔක්කොම දැල අස්සෙ. ඒ වාගේ මේ ආගම්වාද හැටදෙකක ඉන්න මේ ලෝක සත්ත්වයා යන්නෙ එන්නෙ උඩ පනින්නෙ යට යන්නෙ ඔක්කෝම කරන්නෙ මේ දෘෂ්ටිය ඇතුලේ ඉඳලමයි කිව්වා. දෘෂ්ටිය ඇතුලෙ ඉඳලම තමයි ඔක්කොම කරන්නෙ. බලන්න පින්වතුනි දෘෂ්ටියක තියෙන

භයානකකම. දෘෂ්ටි වල තියෙන භයානකකම බලන්න. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ මේ දේශනාව කරනකොට, බුදුරජාණන් වහන්සේ මේ දේශනාව මෙසේ සිද්ධ කලා. සිද්ධ කරලා ආනන්ද ස්වාමීන් වහන්සේට වදාළා, මේකෙ අවසාන කොටස මේ තියෙන්නෙ. ආනන්ද ස්වාමීන් වහන්සේට වදාළා උච්ඡින්න භවනෙත්තිකෝ භික්ඛවේ තථාගතස්ස කායෝ තිත්තති, භික්ෂු සංඝයාට වදාරනවා පින්වත් මහණෙනි, තථාගතයන් වහන්සේගේ බුදු සිරුර තිබෙන්නේ මුලුමනින්ම සිඳුණු භව රැහැන් ඇතිවයි. බුදුරජාණන් වහන්සේ භව ගමනක් නෑ, ඇයි මෙච්චර මේ වාගේ අනන්ත අපරිමාණ අවබෝධයක් තියෙන බුදුරජාණන් වහන්සේට භව ගමනක් නෑ. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා යාවස්ස කායෝ පස්සති තාවනං දක්ඛින්ති දේවමනුස්සා, බුදුරජාණන් වහන්සේගේ ශරීරය යම්තාක් තියෙයිද ඒ තාක් දෙව්මිනිස්සුන්ට දකින්න පුලුවන්. කායස්ස බේදා උද්ධං ජීවිත පරියාදානං නනං දක්ඛින්ති දේවමනුස්සා, බුදුරජාණන් වහන්සේගේ සිරුර බිඳී යාමෙන් පස්සෙ දෙව් මිනිස්සුන්ට කවදාවත් ආයෙ බුදු සිරුර දකින්න බෑ. අපිට දැන් බුදුසිරුර දකින්න බෑ. සෙයයතාපි භික්ඛවේ අම්භපින්ඩා පින්වත් මහණෙනි, අඹරැනක් තියෙනවා නැට්ටක ඉතුරුවෙලා, එක නැටුටෙන් හැදිච්චි අඹරැනක් තියෙනවා. ඉතින් පින්වත් මහණෙනි, ඒ අඹ නැට්ට කඩපු ගමන්, ඒ නැට්ට සිඳපු ගමන් අර අඹ ටික ඔක්කෝම වැටෙනවා නේද කියලා ඇහැව්වා. ආන්න ඒ වගේ භව රැහැන් සිඳපු බුදුරජාණන් වහන්සේ භව රැහැන් සිඳපු බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී ශරීරය දකින්න තියෙන්නෙ දෙව්මිනිස්සුන්ට බුදුරජාණන් වහන්සේගේ ශරීරය තියෙනකල් විතරයි. එතනින් එහාට ආයෙ දකින්න නෑ. ඉතින් ධාතු පරිනිර්වාණය වුනාම ධාතූන් වහන්සේ නමක්වත් දකින්න නෑ. ආනන්ද ස්වාමීන් වහන්සේ ඇහුවා ස්වාමීනී, ආශ්චර්යයි, අද්භූතයි. ස්වාමීනී මොකක්ද මේ දහම් පරියාය? තස්මා තෙ ත්වං ආනන්ද ඉමං ධම්ම පරියායංඅත්තජාලං ති නන්දාරේහි ධම්මජාලං ති නන්දාරේහි බ්‍රහ්මජාලංති නන්දාරේහි දිට්ඨිජාලංති නන්දාරේහි අනුත්තරෝ විජයෝති නන්දාරේහි, එහෙනම් ආනන්ද, මේ අද්භූත දහම් පරියාය ඔබ මතක තියාගන්න අර්ථජාලය කියලා, නැත්නම් ධර්ම ජාලය කියලා, එහෙම නැත්නම් බ්‍රහ්මජාලය කියලා, එහෙමනැත්නම් දෘෂ්ටිජාලය කියලා. එහෙමත් නැත්නම් අනුත්තර සංගාම විජය, දෘෂ්ටි යුද්ධයෙන් ලැබූ උත්තරීතර ජයග්‍රහණය කියලා මතක තියාගන්න කිව්වා. ඉතින් සංඝයා සන්තෝෂයට පත්වුනා. ඉමස්මිංච පනවෙයයාකරණස්මිං බඤ්ජමානි දස සහස්සී ලෝකධාතු, ලෝක ධාතු

දහදාහක් කම්පා වුනා කියනවා මේ දේශනාව දේශනා කරලා ඉවරවෙනකොට. ඉතින් මහා විහාරයේ භික්ෂූන් වහන්සේලා එක හඬින් බ්‍රහ්මජාල සූත්‍රය එකහඬින් සජ්ඣායනා කරලා ඉවරවෙනකොට අනුරාධපුරයේ මහාවිහාරයේ, අනුරාධපුර යුගයේ මහා විහාර භික්ෂූන් එකහඬින් සජ්ඣායනා කරලා අවසන්වෙනකොට මිහිමඬල කම්පා වෙලා තියෙනවා. කැළණි වෙහෙරේ හිටපු එක්තරා භික්ෂූන් වහන්සේ නමක් මේ බ්‍රහ්මජාල සූත්‍රය අර්ථ වශයෙන් සිහි කරලා ඉවරවෙනකොට පොළොව කම්පා වුනා කියනවා. ඒ නිසා පොළොව අතිශයින් කම්පා වුනා. මේ දෘෂ්ටි ජාලය ලිහිලා යනකොට. ඉතින් ඒ නිසා මේ ගැන කිවයුතු තව යමක් තියෙනවා නම් අපි ඊළඟ වැඩසටහනේ තව ටිකක් මේ බ්‍රහ්මජාල සූත්‍රය ගැන කතා කරමු. මෙතෙකින් මේ සූත්‍ර දේශනාව නිමාවෙනවා. මේ සියල්ල දන්නා වූ දක්නා වූ සියලු ගැටලිස්සා වූ අපගේ බුදුරජාණන් වහන්සේ සියල්ලගෙන්ම නිදහස් වුනා. බුදුරජාණන් වහන්සේ ආයතන හය අනිත්‍ය, දුක්ඛ, අනාත්ම වශයෙන් අවබෝධ කරපු ගමන් සියල්ලම නිදහස් වෙන බව හේතු සහිතව, ප්‍රත්‍යය සහිතව, ප්‍රාතිහාර්ය සහිතව විශිෂ්ට ඥාණයෙන් වදාළා. ඒ නිසා අපිට තියෙන්නෙ ආයතන හයේ අනිත්‍ය, දුක්ඛ, අනාත්ම විමසීමයි. ඒ නිසා අපිටත් මේ උතුම් ධර්මය අවබෝධ කරගැනීම පිණිස අපිත් දිවිහිමියෙන් බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ධර්මය සරණ යනවා, සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. ඉතින් බුදුරජාණන් වහන්සේගේ ඒ උතුම් සද්ධර්මයේ පිහිටෙන් අපිටත් සසර දුක් ගෙවාගන්න වාසනාව ලැබේවා.

ඉතින් පින්වත්නි අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සඳහා අද දවසේ දායකත්වය දරන්නේ අංක 96/4, මුල්ලේගම, හෝමාගම යන ලිපිනයේ පදිංචි පින්වත් රංජීව සෙනෙවිරත්න මහත්මයා, චමිලා ඉරෝෂිණී මහත්මිය සහ චතුද් දුලේන් පුතා විසින්. ඉතින් මේ පින්වතුන් මේ රැස් කරගන්න යෙදුනා වූ මේ අනන්ත අපරිමාණ පුණ්‍ය සම්භාරය ඒ වගේම දස දහසක් ලෝක ධාතු කම්පා වුන බ්‍රහ්මජලා සූත්‍රය අපි ශක්ති පමණින් අපි මේ විස්තර කලේ, ඒ වගේම ඔබට විශේෂයෙන් කියවන්න ඉඩප්‍රස්තාව සලසලා අපි මේ පොඩි හැඳින්වීමක් විදියට වචනෙන් වචනෙ මේ විස්තර කලේ පින්වතුනි සූත්‍රය, ඒ සූත්‍රයේ අර්ථයයි විස්තර කලේ. ඒ නිසා ඒ සූත්‍ර දේශනා කියවන්න. මහානුභාවසම්පන්න බුදුරජාණන් වහන්සේගේ අප්‍රමාණ බුදුගුණ තේජස ප්‍රකට වෙන දේශනාවක්. ධම්මචක්ක දේශනාව පැවැත්වූවා වගේම බ්‍රහ්මජාල සූත්‍ර දේශනාව ප්‍රවර්තනය කරනකොට දස දහසක් ලෝක ධාතු කම්පා වුනා. ඉතින් ඒ සත්‍යානුභාවයෙන් අපේ මව්රටටත් ලෝකයටත් සෙත් වේවා.

ලෙඩරෝග දුක් කරදර පීඩා දුරු වෙලා මිනිස්සුන්ට සැනසිල්ල උදාවේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වගේම සියලූම දෙවියන්ට මේ පින් අනුමෝදන් වී සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වීමෙන් සතුටුව සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා පින් පමුණුවමු. ඒ වගේම පින් පමුණුවමු මියපරලොව ගිය සියලූම ඥාතීන්ට පරලොව සැපය වේවා කියලා. ඒ වගේම පරම පූජනීය, ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි මේ විදියේ සූත්‍ර දේශනාවක් අපි මේ විදියට හරි දේශනා කරන්නෙ. ඒ උතුම් බුද්ධ දේශනා පරමගාම්භීරයි. ඒ නිසා සාමාන්‍යයෙන් අපගේ පුංචි හදකට, පුංචි හිතකට ඒ සූත්‍ර දේශනා වල බර, ඒ සූත්‍ර දේශනාවල ගරු ගාම්භීර බව, දරාගන්නවත් බැරි තරම්. ඉතින් ඒකයි. ඒ නිසා ඒ බුදුරජාණන් වහන්සේගේ ධර්මය අපිට මනාව පෙන්නලා ප්‍රසාදය ඇතිකරවපු ගුරු දෙවිඳුන් නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. ඒ වගේම සියලුම සඟරුවන, අනගාරිකා මෑණිවරු, පැවිදි අපේක්ෂක දූපුතුන් මේ පින් බලයෙන් ධර්මාවබෝධයම ලබත්වා. ඒ වගේම අද ධර්ම දානය පැවැත්වූ පින්වතුන් විසින් බලාපොරොත්තු වෙන පරිදි දෙපාර්ශ්වයේම සුජීවත්ව සිටින දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය, ධර්මාවබෝධයම සැලසේවා. ඒ වාගේම කොරෝනා වසංගතය මැඩපැවැත්වීමට වෙහෙස වූ ජනාධිපතිතුමා ඇතුලු කාර්ය මණ්ඩලයටත්, ත්‍රිවිධ හමුදාවටත්, පොලිසියටත්, සෞඛ්‍ය සේවා වල නියුතු සියලු දෙනාටත්, මාධ්‍ය ආයතන වල සියලු දෙනාටත්, අප්‍රමාණ පින් අනුමෝදන් කරනවා මේ පින් බලයෙන් සියලු යහපත රැකවරණය, චිරජීවනය සැලසේවා කියලා. ඒ වාගේම රෝගී වූ සියලු අය සුවපත් වේවා. ඒ වගේම අංක 96/4, මුල්ලේගම, හෝමාගම ලිපිනයේ පදිංචි පින්වත් රංජීව සෙනෙවිරත්න මහත්මයාට, චමිලා ඉරෝෂිණී මහත්මියට සහ චනුද් දුලේන් පුතාට ඒකාන්තයෙන් මේ පින් අනුමෝදන් වී නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, ධර්මාවබෝධයම සැලසේවා. ඒ වාගේම සසර දුකින් අත්මිදෙන්න ලැබේවා. මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන් කාටත්, ගුරුභවතුන්ටත් පින් අනුමෝදන් වේවා. ලක්විරු ගුවන් විදුලියේ, ශ්‍රද්ධා ගුවන්විදුලියේ කාර්යමණ්ඩලයේ සියලු දෙනාට පින්සිදු වේවා. ඒ වගේම ධර්ම දායකත්ව සපයන සියලු දෙනාට පින්සිදු වේවා. ඔබ සියලු දෙනාට ගෞතම බුද්ධ ශාසනයේ අසිරිමත් සම්බුදු සරණේ පිහිටෙන් සැනසී බුදුසසුන තුළ නිවනින් සැනසෙන්න මේ පිනත් හේතුවාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=uwv_pMNpJ88&list=PLaIyA_suCnHx15brN1U__Cvrd IW8GMhnA&index=47

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් ඔබ තමන්ගේ ජීවිතයට විශාල යහපතක් සිද්ධ කරගත්තා මේ ධර්ම දේශනා ශ්‍රවණය කරලා. පින්වතුනි අදත් ඔබට විශේෂ බුදුගුණ පහක් කියලා දෙනවා. ඉතින් ඒ නිසා එයත් කන් යොමු කරගෙන ශ්‍රවණය කරන්න ඕන. අද අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ අනුරාධපුරයේ පදිංචිව සිටින පින්වත් ලක්මිණී මධූකා, තනුජා සඳමාලි, ඒ වගේම රාජාංගණයේ පදිංචිව සිටින පින්වත් අමිල සංජීව, ලක්මාලි මධුෂිකා, එච්.ඩී. රම්‍යලතා, විමල් කරුණාතිලක, ඥාණවතී නිහැරියපොළ මහත්ම මහත්මීන් ඇතුලු මාතලේ පදිංචිව සිටින පින්වත් කරුණා සමරනායක, සුරංග කුරුප්පුආරච්චි, පියුමිකා රත්නායක යන මහත්ම මහත්මීන් විසින් තමයි අද දවසේ ඒ ධර්ම දායකත්වය සපයන්නෙ. ඉතින් බුදුගුණයක් තමන් මුල් වෙලා අන් අයට අහන්න සලස්වනවා කියන්නෙ ඒක ඔබ ධර්ම දානයේ කොටස් කරුවන් බවට පත්වීමක්. අප්‍රමාණ සතුටට පත්වෙන්න. ඉතින් පින්වතුනි අද දේශනාව ටිකක් දීර්ඝයි. නමුත් හෝරාවක් ඇතුලත මෙය කතා කළ යුතුයි. හේතුව අපි මෙයින් ඉස්මතු කරනවා බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදුගුණ, මේ දේශනාවේ නම මහා සකුළුදායී සූත්‍රය. සකුළුදායී පිරිවැජියාට තමයි බුදුරජාණන් වහන්සේ වදාළේ. මේ දේශනාව කරන කාලයේ භාග්‍යවතුන්

වහන්සේ වැඩ සිටියේ රජගහනුවර වේළුවනාරාමයේ. ඒ දවස්වල බොහෝම ප්‍රසිද්ධ වූ, වඩාත් ප්‍රසිද්ධ වූ පිරිවැජියන් මෝරනිවාප නම් වූ පිරිවැජි ආරාමයේ වාසය කලා. කවුද ඒ? අන්නභාර, වරදර, සකුළුදායී ආදී බ්‍රාහ්මණයෝ. බුදුරජාණන් වහන්සේ එදා පිණ්ඩපාතේ වැඩලා වෙලාව තියෙනවා තව පිණ්ඩපාතෙ වඩින්න හැකි. ඒ නිසා බුදුරජාණන් වහන්සේ එතකල් කියලා රජගහනුවර පිඩුසිඟා වඩින්න කලින් මෝරනිවාපය ඒ පිරිවැජියන්ගේ ආරාමයට ගොඩවුනා. ගොඩවෙනකොට අප්පේ සකුළුදායී, සකුළුදායී පිරිවර පිරිවරාගෙන නානා කතාවන්ගෙන් යුක්තයි, මොනවද? ඉත්තිකතා, පුරුෂ කතා, ඥාන කතා, වත්තු කතා, රාජ කතා, චෝර කතා, භූත කතා, ප්‍රේත කතා, මොනවද මේ? දෙතිස් කතා. ඒ දෙතිස් කතාවෙන් කල් ගෙවනවා. ඊටපස්සෙ ඒ පිරිවැජියා දැක්කා ඈත තියාම භාග්‍යවතුන් වහන්සේ වඩිනවා. බුදුරජාණන් වහන්සේ දකිනකොටම පින්වතුනි මේ පිරිවැජියො සළිත වෙලා යනවා. එතකොටම සකුළුදායී කිව්වා අනිත් අයට නිහඬ වෙනිල්ලා, දැන් නම් කතා කරන්න එපා. ආන්න බලාපල්ලා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ එනවා. හරී නිහඬ කෙනෙක් ඔය. නිහඬ බවට ගරු කරනවා, ඒ නිසා අපි නිහඬ ඉන්නකොට උන්වහන්සේ මෙතෙන්ට වඩිනවා. ඉතින් අර විදියටම කට්ටිය ඔක්කොම නිහඬ වුනා. බුදුරජාණන් වහන්සේ වැඩියා. භාග්‍යවතුන් වහන්සේට ආසනයක් පිළියෙල කලා. ඊටපස්සෙ පිරිවැජියාත් කුඩා අසුනක් ගත්තා. දැන් මේ මම දැකලා තියෙනවා මේ සූත්‍ර දේශනා වල ඉතින් බුදුරජාණන් වහන්සේට අපැහැදුන තවම පැහැදීමක් නැති අය පවා බුදුරජාණන් වහන්සේ ඉදිරියේ නම් පොඩි අසුනකමයි ඉඳගන්නෙ. භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ උසක ඉඳලා බුදුරජාණන් වහන්සේට ඉහළින් කතා කරපු කෙනෙක් නෑ. ඉතින් මේ පිරිවැජියත් පොඩි ආසනයක ඉඳගත්තා. ඉඳගෙන ඉන්නකොට බුදුරජාණන් වහන්සේ වදාළා, මං එන්න කලින් මොනවද ඔහේලා කතා කලේ? අනේ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස අපි කතා කරන ඒවා අහන්න දුර්ලභ නෑ, කොතනත් තියෙනවා. මොකක්ද එහෙනම් දුර්ලභ නැති කොතනත් තියෙන කතා? දෙතිස් කතා. කොතනත් තියෙනවා, දුර්ලභ නෑ. ස්වාමීනී මේ පහුගිය දවස්වල කුතුහල ශාලාවේ එක එක ආගම් වල අය එකතු වෙලා රැස්වීමක් තිබ්බා. මම ගියා ඒ රැස්වීමට. සකුළුදායී කියනවා. ඉතින් ඒ අය කතා වුනේ මේ කාලේ මේ රජගහනුවර ගොඩාක් ශාස්තෘවරු වස් වසලා. කවුද ඒ ශාස්තෘවරු වස් වසලා තියෙන්නෙ? නිගන්ඨනාතපුත්ත, අජිතකේසකම්බලි, පකුධකච්චායන, සංජයබෙල්ලට්ඨිපුත්ත, මක්ඛලීගෝසාල මේ ආදී - ෂඩ්

ශාස්තෘවරු කියලා අපි කියන්නෙ- ඒ අය වස් වසලා. බොහෝ ශ්‍රාවකයො ඉන්නවා. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේත් වස් වසලා රජගහනුවර කියලා කතා වුනා කිව්වා, ශාලාවේ. ඉතින් ගෞතමයන් වහන්ස, මේ අය මෙහෙම කතා කරලා, කතා කලා වැඩියෙන්ම මේ අයගෙන් කාටද ශ්‍රාවකයො වැඩියෙන් ගරු බුහුමන් කරන්නෙ කියලා. එතකොට පූර්ණකස්සපට ගොඩාක් ශ්‍රාවකයො ඉන්නවා. ඉතින් ඒ හිටියාට ශ්‍රාවකයො පූර්ණකස්සපට ගරු කරන් නෑ, සත්කාර කරන් නෑ. කිසී පිළිගැනීමක් නෑ, හැබැයි ඉන්නවා එයා පිටිපස්සෙන් වැටිලා. ඉතින් කතා වුනා එතන එක්කෙනෙක් දැක්කා කියලා පූර්ණකස්සපගෙන් එක්කෙනෙක් ප්‍රශ්නයක් අහන්න ගිහිල්ලා, එතකොට ඒ ප්‍රශ්නය අහනකොට එයාගේ ගෝලයෙක් ආ, මං ඕකට උත්තර දෙන්නම් කියලා එයා කෑ ගැහුවා. ඊටපස්සෙ ළඟ ඉන්න එක්කෙනෙක් ඔහේ කොහොමද ඕකට උත්තර දෙන්නෙ, මං දෙන්නම්, මේ පූර්ණකස්සපටත් බෑ ඕකට උත්තර දෙන්න කියලා මහා කාලගෝට්ටියක් ඇතිවුනා, දැන් එක්කෙනෙක් ප්‍රශ්නයක් අහලා. ඊටපස්සෙ ඒ ගෝලයො ටිකම ගහගන්න ගියා. ගහගන්න ගිහිල්ලා, රණ්ඩු වෙලා ඒ අය කිව්වා, මේ ඔහේලා දන්නවද මේ ශාසනේ, පූර්ණකස්සපගේ ශාසනේ, ඒක දන්නෙ මම. එක්කෙනෙක් කිව්වා. එක්කෙනෙක් කියනවා මේ ශාසනේ පූර්ණකස්සපටත් වැඩිය මම දන්නවා කියලා. මේ අය මෙහෙම කරගෙන අවසානේ පූර්ණකස්සප ඔලුවේ අතතියාගෙන කියලා තියෙනවා, යකෝ කෑගහන්නෙ නැතිව හිටපියව් කියලා. ඒ පූර්ණකස්සප එහෙම කෑගහද්දිනුත් එකෙක්වත් කට වහන් නෑ, ඊටපස්සෙ මොකද කරන්නෙ? ඒ අය ඔක්කොම අවසානේ කිව්වා ඔහේ කටවහගෙන ඉන්නවා කියලා පූර්ණකස්සපගේ කට වැහුවා. ඉතින් පූර්ණකස්සපට හැමතැනින්ම බැනුම් අහනවා වගේ ගෝලයන්ගෙනුත්, ශ්‍රාවකයන්ගෙනුත් බැනුම් ඇහුවා. හැබැයි අර කට්ටිය වැටීගෙන ඉන්නවා එයා පිටිපස්සෙන්. ස්වාමීනී, කුතුහල ශාලාවේ ඔන්න ඕක කතාවුනා. එතකොට එක්කෙනෙක් කිව්වා, ඔය වැඩේමනේ අජිතකේසකම්බලීටත් වුනේ. එයා අජිතකේසකම්බලී ඉන්න තැනට ගිහිල්ලා ප්‍රශ්නයක් අහනකොට ගෝලයෝ ටික කිව්වලු අජිතකේසකම්බලීවත් දන්නේ නෑ ඕකට උත්තර දෙන්න, මමයි දන්නෙ කියලා එතනත් කාලගෝට්ටියක්. මේ විදියට ෂඩ් ශාස්තෘවරු ඒ කාලෙ ගෝලයන්ගෙන් බැනුම් අහ අහා ඉඳලා තියෙන්නෙ. කට අරින්න දීලා නෑ. ඊටපස්සෙ ඒ අයගෙම ශ්‍රාවකයො රණ්ඩු වෙනවා. දැන් ඇත්තටම ඔය ෂඩ් ශාස්තෘවරු මැරුණට පස්සේ එයාලගේ ගෝලයෝ හරියට, හරියට රණ්ඩු වෙලා තියෙනවා. හරියට කෝලහාල

ඇතිකරගෙන තියෙනවා. හරියට වාද විවාද ඇතිකරගෙන තියෙනවා. හරියට කණ්ඩායම් බෙදිලා ගිහිල්ලා තියෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේට ඊටපස්සෙ සකුළුදායී කියනවා ස්වාමීනී ඔය අතරේ එක්කෙනෙක් කිව්වා මේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේටත් විශාල ශ්‍රාවක පිරිසක් ඉන්නවා. ඉතින් ඒ වුනාට ශ්‍රමණ භවත් ගෞතමයන්ට නම් සියලූම දෙනා සත්කාර කරනවා, ගරුකාර කරනවා. ස්වාමීනී, දවසක් ඔය ඒ ශාලාවේ කෙනෙක් කිව්වා, දවසක් භාග්‍යවතුන් වහන්සේ ධර්මය දේශනා කරන තැනකට ගිහිල්ලා එයත් පිටිපස්සෙන් ඉඳලා. එයා දැකලා භික්ෂූන් වහන්සේ නමකට කිවිසුමක් යනවා. එතකොට ඒ ළඟ හිටපු අනිත් භික්ෂූන් වහන්සේ දණහිසින් තට්ටු කරලා කියලා ආයුෂ්මතුනි, කෑගහන්න එපා ශාස්තෘන් වහන්සේ දහම් දෙසනවා කියලා. භාග්‍යවතුන් වහන්සේ දහම් දෙසනකොට සියලූම දෙනා නිහඬයි. බුදුරජාණන් වහන්සේ දහම් දෙසනකොට ඒ කාලෙ ධර්මය අහගෙන ඉඳලා තියෙන්නෙ නියඟයෙන් ඉන්න පිරිසක් වැස්සක් බලාපොරොත්තුවෙන් ඉන්නවා වගේ කියනවා, බුදුරජාණන් වහන්සේගෙන් බණ පදයක් බලාපොරොත්තුවෙන් ඉඳලා තියෙන්නෙ ඒ කාලෙ. දැන් සකළුදායී කියනවා, ස්වාමීනී හතරමං හන්දියක මිනිස්සු එකතු කරලා, දඬුවැල් මී වදයක් ගෙනල්ලා, දඬුවැල් බෑ මී වදයක් - එතකොට මම හිතන විදියට මේ කියන ඒවත් එක්ක, අතීතයේ විස්තරත් එක්ක දඬුවැල් මී පැණි ඉතාමත් ප්‍රණීත ඝනයේ, අතිශයින් ප්‍රණීත ගනයට තමයි තියෙන්නෙ - ඉතින් ස්වාමීනී දඬුවැල් මී පැණි ටිකක් ගෙනල්ලා හතරමං හන්දියක ඉඳලා කට්ටියටම දෙනවා. දෙනකොට මටත් දෙන්න, මටත් දෙන්න කියලා අර ඔක්කෝම මට ලැබෙයි කියන බලාපොරෝනතුවෙන් ඉන්නවානෙ, ඒ වාගේ බුදුරජාණන් වහන්සේ දහම් දෙසනකොට ඔක්කෝම බලාපොරොත්තුවෙන් ඉන්නෙ, දැන් කුමක් කියයිද, දැන් කුමක් කියයිද කියලා. කිවිසුම් හඬක් නෑ. ඉතින් මේ වගේ දෙයක් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේට ශ්‍රාවකයෝ මෙච්චර ගරු කරනවා, සත්කාර කරනවා, සම්මාන කරනවා කියලා කුතුහල ශාලාවේ කතා වුනා. ඉතින් එහෙම කියනකොට භාග්‍යවතුන් වහන්සේ අහනවා, සකළුදායී ඈ උදායී, උදායීට හිතෙන්නෙ මොකක්ද? භාග්‍යවතුන් වහන්සේට මෙච්චර අන් අය, ඊටපස්සෙ ඒ අය කියනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, තවත් එකක් කතා වුනා. ඒ තමයි මේ යම් යම් සමහර සිද්ධි නිසා භාග්‍යවතුන් වහන්සේගේ ශාසනයේ මහණවෙච්චි අය සිවුරු හැරලා යනවානෙ. ඒ සිවුරු හැරලා ගියාට පස්සෙ ඒ අයත් කියනවා කියන්නෙ බුදුගුණමයි. ඒ අයත් දහම්ගුණ කියනවාලු. ඒ අයත් සඟ ගුණ

කියනවාලු. ඒ අයත් ඊටපස්සෙ ඇවිල්ලා අනේ අපිටමයි වැරදුනේ, අපිට මහණකමේ ඉන්න පින නෑනෙ කියලා ආපහු ආරාමවලටම ඇවිල්ලා උපාසකයො විදියට පන්සිල් රකිමින් වත්පිළිවෙත් කර කර ඉන්නවලු. ඉතින් ඒ නිසා ඒ අය පවා, සිවුරු ඇරපු අය පවා ශාස්තෘන් වහන්සේට ඒ විදියට ගරු කරනවා, සත්කාර කරනවා, සම්මාන කරනවා මේක නම් මහා පුදුමයක් කියලයි මේ කියන්නේ කියලා. පින්වතුනි, එහෙම දැන් අද කාලෙ නම් නෑ, අද කාලෙ සිවුරු ඇරලා ගියොත් ගියාම තමයි, ගිහිල්ලා පස්සෙ කාලෙක ආරංචි වෙනවා ඔන්න බොනවා, එක්කො රට ගියා. එක්කො මොකාක්හරි එකක් ආරංචි වෙනවා. ඒ කාලෙ එහෙම නෑ, දැන් මම දැක්කා එක විස්තරයක් තියෙනවා එක්කෙනෙක් සිවුරු ඇරලා, ඒ කියන්නෙ මොකක්හරි වෙලා මෙයා මහණකමේ ඉඳලා අවුරුදු හතක් මහණකමේ ඉඳලා මොකක්හරි දේකට මෙයාට සිවුරු හරින්න වෙලා. එයා මොකද කරන්නේ හරීයට සංවේගයට පත්වෙලා සිවුරු හරින්න වීම ගැන. ඊටපස්සෙ එයා මොකද කරලා තියෙන්නෙ, ආරාමෙ නැවතිලා වෙහෙර විහාර ශුද්ධ කරගෙන ශාසනේට දිවිපුදලා වාසය කරලා. එයා මරණින් මත්තේ දෙව්ලොව ගියෙ. අපේ බුද්ධ ශාසනේ වෙනකොටත් - අතීතයේ වෙච්චි එකක්, බොහෝ කල්ප ගාණකට කලින් වෙච්චි එකක්- අපේ බුද්ධ ශාසනය වෙනකොටත් දෙව්ලොව. එදා ඉඳලා දුගතියකට වැටිලා නෑ. හේතුව මහණකම අහිමි වුනත්, ප්‍රතිපදාව අහිමි කරගත්තෙ නෑ, තුණුරුවන්ට තියෙන ගෞරවය නැතිකරගත්තෙ නෑ. අද කාලෙ මහණකම නැතිවෙනකොටම සබ්බසකලමනාවම නැතිවීගෙන යන්නෙ. ආයෙ දකින්නවත් නෑ. ඉතින් ඒ නිසා ඒ කාලෙ සිවුරු හැරපු අය ආපහු ඇවිල්ලා වත්පිළිවෙත් කලා කියනවා වෙහෙර විහාර වල. ඊටපස්සෙ ඉතින් මෙහෙමත් දකිනකොට බුදුරජාණන් වහන්සේට කොච්චර ශ්‍රාවකයො ගරු කරනවද කියලා පුදුම පැහැදීමක් ඇතිවුනා කියලා කතා වුනා කුතුහල ශාලාවේ. එක එක සභාරැස්වීම් තියෙන, අපි කියන්නෙ සම්මන්ත්‍රණ ශාලා කියලා ඒ වගේ එකක් මේ. ඉතින් බුදුරජාණන් වහන්සේ අහනවා උදායී, උදායීට හිතෙන්නෙ මොකක්ද, මෙච්චර ශ්‍රාවකයො තථාගතයන් වහන්සේට ගරු කරන්නෙ ඇයි? උදායී කියනවා මට නම් හිතෙන්නෙ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අල්ප ආහාරයෙන් යැපෙන්නෙ. ඒ නිසා ආහාරයෙන් අල්ප ආහාරයෙන් යැපෙනවා, ඒ ගැන වර්ණනා කරනවා. ඒ නිසා ශ්‍රාවකයො හරී කැමතියි. දෙවෙනි එක කියනවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ලද දෙයින් සතුටු වෙනවා. ලද සිවුරෙන් සතුටු වෙනවා ඒ ගැන වර්ණනා කරනවා. ඒකයි ඔය ශ්‍රාවකයො හරි

කැමැති. තුන්වෙනි එක කියනවා ශ්‍රමණ භවත් ගෞතමයින් වහන්සේ ලද දෙයින් සතුටු වෙනවා, ලද පිණ්ඩපාතයෙන් සතුටු වෙනවා. එතකොට ඒ ගැන වර්ණනා කරනවා, ඒකයි ශ්‍රාවකයො කැමැති. ඊළඟට කිව්වා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ලද සෙනසුනෙන්, කුටියෙන් සතුටු වෙනවා. ඒ ගැන වර්ණනා කරනවා, ඒකයි ශ්‍රාවකයො කැමැති. ඊළඟට ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ හුදකලා විවේකයේ වාසය කරන කෙනෙක්, ඒ ගැන වර්ණනා කරන කෙනෙක්. ඒකයි ශ්‍රාවකයෝ ඔච්චරම කැමැති කියලා මට හිතෙන්නේ කියලා කිව්වා. එතකොට එහෙනම් අන්‍යආගමික පිරිවැජියෙක් හිතලා තියෙන්නේ බුදුරජාණන් වහන්සේට මෙච්චර අනිත් අය කැමැති අල්ප ආහාර ගන්න එක නිසා, ඊළඟට ලද සිවුරෙන් සතුටු වෙන නිසා, ලද පිණ්ඩපාතයෙන් සතුටු වෙන නිසා, ලද සෙනසුනෙන් සතුටු වෙන නිසා, හුදකලාවේ ඉන්න නිසා කියලා ඔය කාරණා පහ නිසයි සතුටු වෙන්නේ කියලා මේ ශ්‍රාවකයො භාග්‍යවතුන් වහන්සේට ගරු කරන්නේ කියලා පිරිවැජියෙක් හිතලා තියෙන විදිය. බුදුරජාණන් වහන්සේ වදාළා, ඈ උදායී අල්ප ආහාරයෙන් යැපෙනවා කියන එකට පහදිනවා නම් උදායී මම සමහර දවස්වලට දානෙ වළඳනවා මේ පාත්‍රයෙන් එකක්. ගැටිට ප්‍රමාණයට. මගේ ශ්‍රාවකයො ඉන්නවා දවසට බත් පිඩක්, බත් මිටක් වළඳලා. ඊළඟට බෙලි ගෙඩියක් තරම්, බෙලි ගෙඩි භාගයක් තරම් පොඩ්ඩක් ආහාර වළඳලා ජීවිතේ පවත්වාගෙන යන මගේ ශ්‍රාවකයො ඉන්නවා. එතකොට ඒ අය දැක්කොත් එහෙම අර පාත්‍රයෙන් එකක් මං වළඳනවා, එයාලගේ පැහැදීම නැතිවෙනවානෙ. ගරු කරන් නෑනෙ, සත්කාර සම්මාන කරන් නෑනෙ. ශාස්තෘ ගෞරවය නැතිවෙනවානෙ කිව්වා. ඈ උදායී, ඔබ දැන් කිව්වනෙ ලද සිවුරෙන් සතුටු වෙනවා කියලා, උදායී මගේ ශ්‍රාවකයො ඉන්නවා පාංශුකූල සිවුරෙන් විතරයි සතුටු වෙන්නෙ. කියන්නෙ තැන් තැන් වල තියෙන රෙදි කෑලි එකතු කරලා සිවුර හදාගන්නෙ. ඒ වුනාට උදායී, මම ගෘහපති චීවර පාවිච්චි කරනවා, මිනිස්සු පූජා කරන සිවුරු මම පාවිච්චි කරනවා. එතකොට ලද සිවුරින් සතුටු වෙනවා කියන එකට පැහැදෙනවා නම් අර පාංශුකූල සිවුර අඳින අය මට අපැහැදෙන්න එපැයි. ශාස්තෘ ගෞරවය නැතිවෙලා යන්න එපැයි. ඈ උදායී, ලද පිණ්ඩපාතයෙන් යැපෙනවා කියන එකට සතුටු වෙනවා කියනවා නම් මගේ ශ්‍රාවකයො ඉන්නවා මගේ ශ්‍රාවකයො පිණ්ඩපාතිකාංගය සමාදන් වෙලා ධූතාංග කිසිම ගෘහපති දානයක් පිළිගන්නෑ මුළු ජීවිත කාලෙම පිණ්ඩපාතෙන් යැපෙන්නෙ. ඒ වුනාට මම රජගෙදර දානෙට වඩිනවා, අසදෘශ දානෙට වඩිනවා, මහාදාන වලට වඩිනවා, විශාඛාගේ ගෙදර

දානෙට වඩිනවා, බිම්බිසාර රජ්ජුරුවන්ගේ ගෙදර දානෙට වඩිනවා. එතකොට මම දාන වලට වඩිනවානෙ. එතකොට අර මුළු ජීවිත කාලෙම පිණ්ඩපාතෙන් ඉන්න එක්කෙනා අපහදින්න එපායැ. ඈ සකුළුදායී ඔබ හිතන්නෙ මොකක්ද, මම ලද සෙනසුනින් සතුටුවෙනවා කියන එක නම් ඒකට නම් ශ්‍රාවකයො භාග්‍යවතුන් වහන්සේට ගරු කරන්නෙ, මගේ ශ්‍රාවකයො ඉන්නවා සෝසානිකාංගය, සොහොනේ ඉන්න දුතාංග සමාදන් වෙලා, ගස් යට ඉන්න දුතාංග සමාදන් වෙලා, අවකාශයේ ඉන්න දුතාංග සමාදන් වෙලා වාසය කරනවා. මම ගන්ධකුටියේ වාසය කරනවා, ඊළඟට මණ්ඩප වල, කුළු ගෙවල් වල මම වාසය කරනවා. එතකොට අර අය භාග්‍යවතුන් වහන්සේ කුළුගෙයක වාසය කලා කියලා අපහදින්න එපායැ. ඕකට නෙවෙයි කිව්වා සකුළුදායී ශ්‍රාවකයෝ ශාස්තෘන් වහන්සේට පැහැදිලා ඉන්නෙ. ඈ, සකුළුදායී හුදෙකලා විවේකයෙන් සිටිනවා කියන්නෙ, මගේ ශ්‍රාවකයො ඉන්නවා මහා ගොඩාක් වනාන්තරේ ඇතුලෙමයි ඉන්නෙ. දවස් පහළොවකට සැරයක් පොහොය කරන්න විතරක් සංඝයා මැදට ඇවිල්ලා පොහොය කරලා ආපහු වනයට යනවා. එහෙම ඉන්න ශ්‍රාවකයො ඉන්නවා. ඉතින් මම භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා, රාජ මිනිස් කියන සියලූම, රාජ රාජ මහා අමාත්‍යවරු පිරිවරාගෙන මම දහම් දෙසනවා. ඉතින් එහෙනම් කැලේ ඇතුලෙම ඉන්න භික්ෂුව අපහදින්න එපැයි. සකුළුදායී ඕවට නෙවෙයි කිව්වා ශ්‍රාවකයො බුදුරජාණන් වහන්සේට පැහැදිලා ඉන්නෙ. සකුළුදායී වෙන කාරණා පහක් තියෙනවා ශ්‍රාවකයො තථාගතයන් වහන්සේට පහදින. අන්න බුදුගුණ. කුමක්ද සකුළුදායී ඒ බුදුගුණ පහ? උතුම් සීලස්කන්ධයකින් යුතුයි. චූල සීල, මජ්ඣිම සීල, අධි සීල, මහා සීල ආදී වශයෙන් බුදුරජාණන් වහන්සේ තරම් සිල් පුරන කෙනෙක්, බුදුරජාණන් වහන්සේ තරම් සීලය තියෙන කෙනෙක්, පරම පවිත්‍ර වූ සීලස්කන්ධයක් තියෙන උත්තමයෙක් තවත් බුදු කෙනෙක් හැර නම් ලෝකයේ නැහැ. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ මහා සීලස්කන්ධයට උතුම් සීලස්කන්ධයට අපේ ශාස්තෘන් වහන්සේ පරම පවිත්‍ර සීලස්කන්ධයකින් යුතුයි කියලා ශ්‍රාවකයො ශාස්තෘන් වහන්සේට ගරු කරනවා, සත්කාර කරනවා, සම්මාන කරනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ කෙරෙහි ශාස්තෘ ගෞරවයෙන් යුක්තයි, පළවෙනි එක. දෙවෙනි එක තමයි බුදුරජාණන් වහන්සේට ඉතා සුන්දර ඥාණ දර්ශනයක් තියෙනවා කියලා ශ්‍රාවකයො පහදිනවා. ශ්‍රාවකයො දන්නවා භාග්‍යවතුන් වහන්සේ දැනගෙනමයි දන්නවා කියන්නෙ. දැකලාමයි දකිනවා කියන්නෙ. ශාස්තෘන් වහන්සේ දහම් දෙසන්නේ

ප්‍රාතිහාර්ය සහිතව. හේතු සහිතව. ඒ වගේම අවබෝධයෙන් යුතුව. බුදුරජාණන් වහන්සේ දහම් දෙසන්නෙ. ඒ නිසා දැනගෙන දැකලාමයි දහම් දෙසන්නෙ. අවබෝධයෙන්මයි දහම් දෙසන්නෙ කියලා බුදුරජාණන් වහන්සේගේ ඉතාම සුන්දර ඥාණ දර්ශනයට ශ්‍රාවකයො පැහැදිලා ඉන්නවා ශාස්තෘ ගෞරවයෙන් පැහැදිලා ඉන්නවා. එහෙනම් ශ්‍රාවකයෝ අපි නම් අපි බුදුරජාණන් වහන්සේගේ සීලය ගැන අප්‍රමාණ පැහැදීමක් තියෙන්න ඕන. බුදුරජාණන් වහන්සේගේ ඥාණ දර්ශනය, අවබෝධය, දේශනා කරන දේවල් ගැන ලොකු පැහැදීමක් තියෙන්නෙ ඕන. බුදුරජාණන් වහන්සේ යමක් දන්නවා දකිනවා කිව්වොත් ඒක ඒකාන්තයෙන් දැනගෙන දැකලාමයි දේශනා කරන්නෙ. ලෝකයේ හටගැනීම අග්ගඤ්ඤ සූත්‍රය, ලෝකයේ නැතිවීම සත්තසුරියගමන සූත්‍රය - මේ කල්පයේ, එතකොට බුදුරජාණන් වහන්සේ ඒවා නිරය ගැන දේශනා කරපු ඒවා, දිව්‍යලෝක ගැන දේශනා කරපු ඒවා, බ්‍රහ්මලෝක ගැන දේශනා කරපු ඒවා, කුසල් අකුසල් ගැන දේශනා කරපු ඒවා, ඒවා දැනගෙන දැකලාමයි ඔය දේශනා කරන්නෙ. සැකයක් නෑ, අනුමාන කරලා වෙන්න ඔය කියන්නෙ කියලා හිතෙන්නෑ ශ්‍රාවකයෙකුට. ඥාණ දර්ශනයට, බුදුරජාණන් වහන්සේගේ අවබෝධයට පැහැදිලා ඉන්නෙ. පළවෙනි කාරණය සීලස්කන්ධයට, දෙවෙනි එක ඥාණ දර්ශනයට, තුන්වෙනි කාරණාව තමයි භාග්‍යවතුන් වහන්සේගේ අධිප්‍රඥාවට පැහැදිලා ඉන්නෙ. බුදුරජාණන් වහන්සේ වාද හටගන්නවා නම් හටගන්න හේතුත් දන්නවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ වාදයක් හටගත්තාට පස්සෙ ඒ වාදය නිෂ්ප්‍රභා කරනවා කියන එකත් කරනවා. එතකොට භාග්‍යවතුන් වහන්සේ මේ ලෝකෙ වාද විවාද හටගන්න හැටි නැතිවෙන හැටි හැමදෙයක්ම දන්නවා නම්, මේ ලෝකෙ සියලුම අර්බුද, අර්බුද ලිහන විදිය ගැන දන්නවා නම්, ඒක ඒකාන්තයෙන් සිද්ධ වෙන එකක් නම්, වෙන විදියකින් සිද්ධ වෙන් නැත්නම්, ඉතින් අහනවා මේ ගැන ශ්‍රාවකයො දන්නවා නම් බුදුරජාණන් වහන්සේ දහම් දෙසද්දි මැදින් කතාවක් දායිද කියලා අහනවා. මැදින් ඒකට පැනලා එයාගෙ කතා දායිද අහනවා බුදුරජාණන් වහන්සේගේ අවබෝධය ගැන පැහැදීමක් තියෙනවා නම්. ඇයි බුදුරජාණන් වහන්සේට තියෙන ප්‍රඥාස්කන්ධය. බුදුරජාණන් වහන්සේගේ ඥාණය, බුදුරජාණන් වහන්සේට අවබෝධ වෙච්චි ධර්ම ධාතුව. බුදුරජාණන් වහන්සේ ළඟට ප්‍රශ්නයක් අහගෙන කෙනෙක් ආවට පස්සෙ බුදුරජාණන් වහන්සේ ඒකට කලින් උත්තර හදාගෙන ඉන්නවද? නෑ. ඒ වෙලාවෙම උත්තර එනවා. අපි ගමුකො මහල්ලී සූත්‍රය. මහල්ලී ඇවිල්ලා අහනවා, භාග්‍යවතුන්

වහන්ස මේ හැමතැනම කතාවක් යනවා ඔබ වහන්සේ ආවට්ඨනී මායාව කියලා මායාවකින් කට්ටිය කරකවලා ගන්නවා කියලා. ඒක ඇත්ත කාරණාවක්ද, අපි කැමැති නෑ ඔය එක එක්කෙනාගේ බොරු අහන්න, නමුත් ඇත්ත දැනගන්න කැමැතියි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා මහල්ලී මම ප්‍රශ්නයක් අහන්නම්. මේ සත්ත්වයාගේ හිතේ උපදින ලෝභය, එයාට යහපත පිණිස පවතිනවාද, අයහපත පිණිස පවතිනවාද? ස්වාමීනී අයහපත පිණිස පවතින්නෙ. ඉතින් යම්කිසි කෙනෙක් මේ ලෝභය දුරු කිරීම පිණිස දහම් දේශනා කරනවා. ඒ අය යහපතක් ද කරන්නෙ අයහපතක් ද? යහපතක්. යම්කිසි කෙනෙක් මේ ලෝභය මැඩපවත්වා, මැඩගෙන මැඩගෙන මේ කෙලෙස් දුරු කරනවා, වැඩපිළිවෙල දන්නවා. ධර්මයේ හැසිරෙනවා. එයාගේ හැසිරීම යහපත් ද, අයහපත් ද? යහපත්. ද්වේෂය, මෝහය මේ විදියට විස්තර කලා ක්ලේශ ගැන. මේ විදියට දේශනා කරනකොට අර මහල්ලී කියනවා ස්වාමීනී, ඉතාමත් සුන්දරයිනෙ මේ ධර්මය. දැන් මෙයා පැහැදෙනවා. බුදුරජාණන් වහන්සේ වදාළා පොඩ්ඩක් ඉන්න. මං ඔබට කිව්වද මට පැහැදෙන්න? ඊටපස්සෙ කිව්වා අනේ නෑ. ඉතින් එහෙනම් ධර්මය බුදුරජාණන් වහන්සේ දේශනා කරද්දි ධර්මයට ශ්‍රාවකයො පහදිද්දි කවුරුහරි කිව්වොත් ආව්ටඨනී මායාවට කැරකිලා එනවා කියලා ඒක හරිද කියලා, දැක්කද පළවෙනියට අහපු ප්‍රශ්නෙට උත්තරේ ලැබිච්චි තැන. ස්වාමීනී, වැරදියි. ආන්න ඒ නිසා තමයි අභූතයෙන් චෝදනා හැබැයි කියනවා ස්වාමීනී, මේ අකුසල් ප්‍රහාණය කරන කුසල් උපද්දවන එකට නම් මේ කට්ටිය ආවට්ඨනී මායාව කියලා කියන්නෙ මගේ ඥාතීන්ද, මාගේ මිත්‍රයෝද, අමිත්‍රයෝද, සියලු දෙනා මේ ආවට්ඨනී මායාවට කැරකිලා එත්වා කියලා කියනවා. එච්චර යහපතක් කියලා. බුදුරජාණන් වහන්සේ ආවට්ඨනී මායාව කියන වචන පාවිච්චි කරන්නෙ නෑ. කියනවා මේ අකුසල් දුරු කරන, කුසල් උපදවන වැඩපිළිවෙලට සියලු දෙනා පැමිණෙත්වා කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා. ඒ වගේ, තව එක්කෙනෙක් ඇවිල්ලා අහනවා බුදුරජාණන් වහන්සේ මායාකාරයෙක් ද? ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඇහුවා ඔයා මේ රටේ ලෝකෙ තියෙන හොර මැරකම් දන්නවද කියලා ඇහුවා. දන්නවා කිව්වා. ඒවා දැනගත්තා කියලා ඔයා හොරෙක්ද කියලා ඇහුවා. නෑ කිව්වා. ඒ වාගේ මේ ලෝකෙ යම්තාක් මායාවල් තියෙනවද ඒවා මම දන්නවා කිව්වා. ඒ වුනාට මං මායාකාරයෙක් නෙවෙයි. ඉවරයි ප්‍රශ්නෙ එහෙම්මම විසඳුණා. පුදුම සහගතයි. දීඝනික ඇවිල්ලා අහනවා මං කිසිම දෘෂ්ටියකට කැමැති නෑ, බුදුරජාණන් වහන්සේ වදාළා කිසිම

දෘෂ්ටියකට කැමැති නෑ කියන දෘෂ්ටියට කැමැතියි නේද? අනේ ස්වාමීනී, කියලා ඉඳගත්තා. ධර්මය දේශනා කලා. අධි ප්‍රඥාවක්. ඉතින් ඒ අධිප්‍රඥාවෙන් දහම් දෙසද්දි කවුරුවත් මැද්දට පැනලා කවුරුවත් කතා කරන්න යන්නෑ බුදු කෙනෙක් ළඟ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, මම ශ්‍රාවකයන්ගෙන් උපදෙස් ගන්නෑ කිව්වා. සියලු ශ්‍රාවකයෝ ශාස්තෘන් වහන්සේගෙන් උපදෙස් ගන්නවා කිව්වා. ඉතින් ඒ නිසා සියලු ශ්‍රාවකයෝ ශාස්තෘන් වහන්සේට ශාස්තෘ ගෞරවයෙන් වාසය කරනවා කියනවා. පුදුම සහගතයි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඔය තමයි තුන්වෙනි කාරණාව. පළවෙනි කාරණාව මොකක්ද? උතුම් සීලස්කන්ධය. දෙවෙනි එක ඥාණ දර්ශනය. ඥාණ දර්ශනය තමයි සියලු ඥාණ අයිති වෙන්නෙ. ඒ කියන්නෙ චුතූපපාත ඥාණය, පුබ්බේනිවාසානුස්මෘති ඥාණය ඒවා ඥාණ දර්ශණ. ඊළඟට දිබ්බචක්ඛු, දිබ්බසෝත, පරචිත්තවිජානන ඥාණය. ඒවා ඥාණ දර්ශන. එතකොට ඒකට පහදිනවා දෙවෙනි එක. තුන්වෙනි එක තමයි අධිප්‍රඥාවට. ඒ කියන්නෙ බුදු කෙනෙකුට විතරක්ම පැහැදෙන, බුදු කෙනෙකුට විතරක්ම තියෙන ප්‍රඥාව තියෙනවා. බුදුරජාණන් වහන්සේගේ අධි ප්‍රඥාව කියන එකට සබ්බඤ්ඤුත ඥාණය කියලා කිව්වත් වැරදි නෑ. සියල්ල අවබෝධ කරගත්තු ඥාණය. අනාවරණ ඥාණය, ආසයානුස ඥාණය, ෂඩ් අසාධාරණ ඥාණ මේ සියල්ල එකතු වෙච්ච ඥාණයක් තියෙන්නෙ භාග්‍යවතුන් වහන්සේට. එතකොට බුදුරජාණන් වහන්සේ අධිප්‍රඥාවෙන් යුක්තයි කියලා තුන්වෙනි කාරණාව. හතරවෙනි කාරණාව, බුදුරජාණන් වහන්සේ චතුරාර්ය සත්‍යය විමසාගෙන එන අයට චතුරාර්ය සත්‍යය ගැන කියලා දෙනවා. එයාලා ඒකෙන් සතුටු වෙනවා. ඒ නිසා ශ්‍රාවකයො සියලු දෙනා බුදුරජාණන් වහන්සේට පැහැදිලා ඉන්නෙ. දුකෙන් පීඩිත වෙලා, දුකෙන් පීඩාවට පත්වෙලා, බුදුරජාණන් වහන්සේ ළඟට එනවා දුක ගැන අහගෙන. බුදුරජාණන් වහන්සේ විග්‍රහ කර කර දෙනවා දුක ගැන. ඒක අහන ශ්‍රාවකයා එයින් සතුටට පත්වෙනවා. තේරුම් ගන්නවා, ආන්න ශ්‍රාවකයො පහදිනවා, සත්කාර කරනවා, ගරු කරනවා. දුකේ හටගැනීමෙන්, තෘෂ්ණාවෙන් පීඩා විඳින සත්ත්වයෝ බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා දුකේ හටගැනීම ගැන අහනවා. බුදුරජාණන් වහන්සේ දුකේ හටගැනීම ගැන විස්තර කර කර විස්තර කර කර දෙනවා. එයා ඒකෙන් සතුටට පත්වෙනවා. එයාට වැටහෙනවා. ඊළඟට දුක්ඛ නිරෝධය, නිවනක් සොයාගෙන යන අය බුදුරජාණන් වහන්සේ ළඟට එනවා, බුදුරජාණන් වහන්සේ නිවනක් ගැන කියලා දෙනවා ඒ අයට. ඒ අය

ගොඩාක් සතුටට පත්වෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ ළඟට එනවා නිවන් දකින මාර්ගයක් හොයාගෙන. ඒ අයට බුදුරජාණන් වහන්සේ නිර්වාණ මාර්ගය කියලා දෙනවා, දුක් නිරුද්ධ කරන මාර්ගය. ආර්ය අෂ්ටාංගික මාර්ගය කියලා දෙනවා. ඒක එයාට තේරෙනවා, වැටහෙනවා, පහදිනවා. බුදුරජාණන් වහන්සේ චතුරාර්ය සත්‍යය දේශනා කරමින් අන් අයගේ සිත් ගන්නා නිසා සියලු ශ්‍රාවකයෝ ශාස්තෘන් වහන්සේට ගරු කරනවා. ඇත්තටම භාග්‍යවතුන් වහන්සේ නොහිටින්න නම්, දැන් මේ පහුගිය කාලයේ ඇතිවෙච්ච මේ කොරෝනා අර්බුදය නිසා අපිට වචනයෙන් වචනයෙන් පසක් වුනානේ භාග්‍යවතුන් වහන්සේ වදාළ දේ සත්‍යයි, මේකට නේද බුදුරජාණන් වහන්සේ දුකයි කිව්වෙ. බුදුරජාණන් වහන්සේ මේකට නේද අනිත්‍යයි කිව්වේ. බුදුරජාණන් වහන්සේ මේකට නේද සංස්කාරයෝ අනිත්‍යයි කිව්වෙ. මේකට නේද බුදුරජාණන් වහන්සේ වයධම්මා සංකාරා අප්පමාදෙන සම්පාදේථ කියලා පිරිනිවන් පානකොටත් මේ සංස්කාරයෝ අනිත්‍යයි, අප්‍රමාද වෙන්න කියලා කිව්වෙ ඇත්තක් නේද? බාහිර කිසිම දේකින් පිළිසරණක් නෑ කියලා භාග්‍යවතුන් වහන්සේ වදාළ දේ සත්‍යයි නේද කියලා තමන් මූණදෙන ප්‍රශ්නත් එක්ක සත්‍යයම ප්‍රකට වෙන්න ගන්නවා. එතකොට එයාට බුදුරජාණන් වහන්සේගේ ධර්මය ගැන පැහැදීමක් එනවා. එතකොට ඒ ධර්මය අහන එක්කෙනා පැහැදෙනවා. එතකොට චතුරාර්ය සත්‍යය ධර්මය දේශනාවෙන් අන් අයගේ සිත ගන්නා හෙයින් ශ්‍රාවකයො බුදුරජාණන් වහන්සේට අතිශයින් ගරු කරනවා, සත්කාර කරනවා, සම්මාන කරනවා. ශාස්තෘ ගෞරවයෙන් යුක්ත වෙනවා. මේ හතරවෙනි කාරණාව. පළවෙනි කාරණාව. උතුම් සීලස්කන්ධය. දෙවෙනි එක, භාග්‍යවතුන් වහන්සේගේ සුන්දර ඥාණ දර්ශනය. තුන්වෙනි කාරණාව, භාග්‍යවතුන් වහන්සේගේ අධිප්‍රඥාව. හතරවෙනි කාරණාව, බුදුරජාණන් වහන්සේ චතුරාර්ය සත්‍යය ධර්මය දේශනා කරමින් අන් අයගේ සිත ගන්නවා. ඒ අය සියලු දෙනා සතුටු වෙනවා ඒ චතුරාර්ය සත්‍යය දේශනාවට. ඊළඟට පස්වෙනි කාරණාව තමයි බුදුරජාණන් වහන්සේ ශ්‍රාවකයන්ට වැඩපිළිවෙලක් කියලා දීලා තියෙනවා. ඒ ශ්‍රාවකයෝ වැඩපිළිවෙල පිළිපදිනවා. පිළිපැදලා අර්හත්වයට පත්වෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේගෙන් නම් ක්‍රමය අහගත්තෙ, බුදුරජාණන් වහන්සේගෙන් නම් ඒ ක්‍රමය අහගෙන පුරුදු කරලා තමන්ද නිකෙලෙස් වුනේ, ඒ ශ්‍රාවකයො ශාස්තෘන් වහන්සේට ගරු කරන් නැත්ද? වදින්නෙ නැත්ද? පුදන්නෙ නැත්ද? සත්කාර සම්මාන කරන් නැත්ද? ශාස්තෘ ගෞරවයෙන් යුක්ත වෙන් නැද්ද? යුක්ත

වෙනවා. හේතුව වැඩපිළිවෙලක් කියලා දුන්නා බුදුරජාණන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ වදාළා මාගේ ශ්‍රාවකයන්ට ශාස්තෘන් වහන්සේ විදියට දහම් දේශනා කරනවා සතර සතිපට්ඨානය. කායානුපස්සනාව, වේදනානුපස්සනාව, චිත්තානුපස්සනාව, ධම්මානුපස්සනාව. මේ සතර සතිපට්ඨානය ඒ අය පුරුදු කරනවා. පුරුදු කරලා පාරමිතාවක් වගේ පුරුදු කරලා අර්හත්වයට පත්වෙනවා. ඉතින් ඒ ශ්‍රාවකයෝ බුදුරජාණන් වහන්සේට ගරු කරනවානෙ, සත්කාර කරනවානෙ. එතකොට බුදුරජාණන් වහන්සේ ශ්‍රාවකයන්ට කියලා දෙනවා සතර සම්‍යප්‍රධාන වීර්යය. නූපන් අකුසල් නූපදවීම පිණිස, චන්දං ජනේති වායමති විරියං අරබති චිත්තං පග්ගන්නාති පදහති, කැමැත්ත ඇති කරනවා, වීර්යය ආරම්භ කරනවා, සිත දැඩි කරනවා, වීර්යය කරනවා. නූපන් අකුසල් නූපදවීම පිණිස, උපන් අකුසල් ප්‍රහාණය කිරීම පිණිස, නූපන් කුසල් ඉපදවීම පිණිස, උපන් කුසල් මුලා නොවීම පිණිස ඡන්දං ජනේති, කැමැත්ත ඇතිකරගන්නවා. වායමති, වෑයම් කරනවා. විරියං ආරබති, වීර්යය ආරම්භ කරනවා. චිත්තං පග්ගංනාති, සිත දැඩි කරගෙන ඉන්නවා ආපහු වීර්යය අත්නොහැරෙන විදියට. ඉතින් මේක පුරුදු කරනවා ශ්‍රාවකයෝ, පාරමිතාවක් වගේ පුරුදු කරලා අර්හත්වයට පත්වෙනවා. දැන් ශාස්තෘන් වහන්සේට ගරු කරන් නැද්ද? සත්කාර සම්මාන කරන් නැත්ද? ඊළඟට බුදුරජාණන් වහන්සේ ශ්‍රාවකයන්ට කියලා දෙනවා සතර ඍද්ධිපාද, ඡන්ද, චිත්ත, වීර්යය, වීමංසා කියන. ඒ ඍද්ධිපාද ඡන්ද පදාන සමාධි සංකාර සමන්නාගත ඍද්ධිපාද වඩනවා. එතකොට ඒ විදියට පදානසමන්නාගත ඍද්ධි මනාව වඩනකොට මේ ඍද්ධි පාද හතර එයාගේ හිත නිකෙලෙස් වෙනවා. ඉතින් ශාස්තෘන් වහන්සේට ගරු කරන් නැත්ද? ඊළඟට බුදුරජාණන් වහන්සේ වැඩපිළිවෙලක් කියලා දෙනවා පඤ්ච ඉන්ද්‍රිය ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥා. බුදුරජාණන් වහන්සේගේ ඒ වැඩපිළිවෙලිනුත් කෙනෙක් හොඳට පුරුදු කරලා නිකෙලෙස් වෙනවා, ඉතින් ශාස්තෘන් වහන්සේට ගරු කරනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ වැඩපිළිවෙලක් යොදනවා පංච බල. ශ්‍රද්ධා විරිය සති සමාධි ප්‍රඥා. එතකොට ශ්‍රද්ධා බලය, විරිය බලය, සති බලය, ඊළඟට සමාධි බලය, ප්‍රඥා බලය. එතකොට මේ බල තුලින් එයා නිකෙලෙස් වෙනවා. ඉතින් ශාස්තෘන් වහන්සේට ගරු කරනවානෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා, ඊළඟට ශ්‍රාවකයා සප්ත බොජ්ඣංග වඩනවා. ධම්මවිචය සම්බොජ්ඣංගය වඩනවා. විවේකනිශ්චිතං, විරාගනිශ්චිතං, නිරෝධනිශ්චිතං, බොස්සග්ගපරිනාමිං, විවේකයෙන් යුතුව, නොඇල්මෙන්

යුතුව, ඊළඟට කෙලෙස් දුරු කිරීමෙන් යුතුව, නිවනට බර වෙලා මේ ධම්මවිචය සති බොජ්ඣංගය වඩනවා. ඊළඟට සිහිය, ධම්මවිචය, වීර්යය, ප්‍රීතිය, පස්සද්ධිය, සමාධිය, උපෙක්ෂාව මේ බොජ්ඣංග ධර්මයෝ වඩනවා. එතකොට මේ ධර්මය වඩලා මනාව වඩලා වඩලා එයාගේ හිත නිකෙලෙස් වෙනවා. එතකොට එයා ශාස්තෘන් වහන්සේට ගරු කරන් නැත්ද? ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කළා, එයා වඩනවා ආර්ය අෂ්ටාංගික මාර්ගය. බුදුරජාණන් වහන්සේ කියලා දෙන වැඩපිළිවෙලවල් මේවා. සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි. එතකොට මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය මනාව ප්‍රගුණ කරනකොට, පාරමිතාවක් සේ ප්‍රගුණ කරනකොට එයාගෙ හිත නිකෙලෙස් වෙලා යනවා. එතකොට නිකෙලෙස් වූ රහතන් වහන්සේ ශාස්තෘන් වහන්සේට වඳින්නෙ පුදන්නෙ, ගරු කරන්නෙ නැත්ද? ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා දස කසින. මොනවද ඒවා? පඨවි කසිනය, ආපෝ කසිනය, තේජෝ කසිනය, ඊළඟට නීල, පීත, ඕදාත, ලෝහිත, ආකාස, විඤ්ඤාණ ඔය වගේ දස කසින තියෙනවා. ඒ දස කසිනත් මාවතක්. දැන් අද කාලෙ කසින වඩනවා කියන එක ඉතාමත් දුර්ලභ, ඉතාමත් කලාතුරකින් වගේ තමයි සිද්ධ වෙන්නෙ. එතකොට ඒකත් මාවතක්. ඒකෙනුත් නිකෙලෙස් වෙලා තියෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ ධ්‍යාන හතර දේශනා කරනවා. පළවෙනි ධ්‍යානය, පළවෙනි ධ්‍යානය ඇතිවුනාට පස්සෙ පින්වතුනි, ඒ පළවෙනි ධ්‍යානය කියන එක හොඳට බණ භාවනා කරගෙන යනකොට හිත හොඳට ප්‍රමෝදයෙන් හොඳට ප්‍රමෝදය ඇතිවෙලා ඒකත් තුළින් භාවනා කරගෙන කරගෙන යනකොට ප්‍රීතිය උපදිනවා. ප්‍රීතියෙන් කය ගොඩාක් සැහැල්ලු වෙනවා. සැහැල්ලු වෙනකොට සැපයක් ඇතිවෙනවා. ඒ සැපයත් එක්කම හිත ගොඩාක් සමාධිමත් වෙලා යනවා. එතකොට කාම අරමුණු ආදී නීවරණ බැහැර වෙලා. විවිච්චේව කාමේ විවිච්ඡ අකුසලේ ධම්මේ. එතකොට භාවනා අරමුණ හිතනවා කියන එක තියෙනවා. විතක්ක. නැවත නැවත හිතනවා කියන එක තියෙනවා. විචාර. ප්‍රීතිය තියෙනවා. ඊළඟට සැපය තියෙනවා. හිත එකඟ බව තියෙනවා. එතකොට ඒ සමාධියෙන් ඉන්න කෙනාට ඒ ප්‍රීතියෙන්ම ඇඟ සීතල වෙලා යනවා. එයාගෙ ප්‍රීතිය මුළු ශරීරය පුරාම පැතිරිලා යනවා. රෝම කූපයට පවා ප්‍රීතිය පැතිරිලා තියෙන්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා ඒක උපමාවකින් කිව්වොත් නානසුණු හදාගන්නකොට - ඒ කාලෙ තිබ්බ පිටි වර්ගයක් - ඒකට වතුර ඉහලා ගුලි කරගන්නවා සබන් කැටේ වගේ. එතකොට

වතුර ඉහ ඉහ ඒක ගුලි කරගන්නකොට ඒක එකම නානසුණු අංශුවක්වත් නෑ තෙත් නොවිච්ච. ඔක්කොම තෙත්වෙලා තියෙන්නෙ. ආන්න ඒ වගේ තමයි ප්‍රීතියෙන් තෙත් වෙනවා. ප්‍රීතියෙන් තෙත් වෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා ඕන්න ශ්‍රාවකයා ඒ වැඩපිළිවෙලින් ඔය පළවෙනි ධ්‍යානය උපද්දවගන්නවා. ඊළඟ ශ්‍රාවකයා උපද්දවගන්නවා දෙවෙනි ධ්‍යානය. එතකොට අවිතක්කං අවිචාරං. විතක්ක විචාර නැතිව. සමාධිං පීති සුඛං, සමාධියෙන් හටගන්නා ප්‍රීති සැපය ඇති දෙවෙනි ධ්‍යානයේ වාසය කරනවා. එතකොට ඒ දෙවෙනි ධ්‍යානය තුළම තියෙනවා එයාට සමාධියෙන් ඉපදුණු සැපය. ප්‍රීතිය. එතකොට ඒක හරියට ඒ සමාධියෙන්ම මෙයා තෙත් වෙවී ඉන්නවා. හොඳට කය සීතල වෙලා, තෙත් වෙලා, සමාධිය හොඳට පැතිරිලා ගිහින්. ඇතුලෙන්ම උපදිනවා. සමාධිය තුළින්මයි උපදින්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඒ භික්ෂුවට කයම සමාධියෙන් හටගත්තු ප්‍රීති සුඛයෙන් හොඳට තෙත් වෙලා තියෙන්නෙ. මුළුමනින්ම තෙත් වෙලා. එයින්ම පුරවනවා. පිරිපුන්ව පුරවනවා. ඔහුගේ සියලු කයේ සමාධියෙන් හටගත්තු ප්‍රීති සුඛය ස්පර්ශ නොකළ තැනක් නෑ කියලා වදාළා. ඒක හරියට මේ වගේ. දිය උල්පතක් තියෙනවා. පිටින් වතුර එන්නෙත් නෑ, වැස්ස එන්නෙත් නෑ. ඇතුලේ උල්පත් තියෙනවා. එතකොට ඇතුලේ උල්පත් වලින්ම සීතල වෙවී, සීතල වෙවී තියෙනවා. ඒ වගේ කියනවා දෙවෙනි ධ්‍යානය. ඊළඟට තුන්වෙනි ධ්‍යානය උපද්දවගෙන වාසය කරනවා. ප්‍රීතියට නොඇලුනු, පීතිරාග විරාගා උපෙක්ඛෝච විහරති සතෝච සම්පජානා සුඛංච පටිසංවේදී, සිහිනුවණින් යුතුව, ඒ ප්‍රීතියේ නොඇලී ගිහිල්ලා, ප්‍රීතියට යන්නෙ නැතිව, ඊළඟට හොඳ සැපයෙන් වාසය කරනවා. එතකොට මෙයාගේ මුළු ශරීරය පුරාම ඒ නොඇලුනු ප්‍රීතියෙන් යුක්තව, සැපයෙන් තෙත් වෙවී තියෙනවා. හොඳට මුළු ශරීරය පුරාම සැපය පැතිරිලා තියෙනවා. ගොඩාක් සැපය පැතිරිලා තියෙනවා. ඒක හරියට මේ වගේ. ඔන්න නෙළුමක් වතුර ඇතුලෙ හැදෙනවා. එතකොට ඒ නෙළුම හැදෙන්නෙත් වතුරේ, මතුවෙන්නෙත් වතුරේ. උඩට එන්නෙත් වතුරෙන්, හැදිලා තියෙන්නෙත් වතුරේ. එතකොට ඒ නෙලුම් ගහේ පහල ඉඳලා උඩ දක්වාම සීතලයි. ඒ වගේ හොඳට සැපයෙන් තෙත් වෙලා තියෙන්නෙ මෙයාගෙ ශරීරය. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, දැන් ඒක බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පාරිශුද්ධ වූ ප්‍රභාෂ්වර සිතින් පතුරුවාගෙන වාසය කරනවා කියලා. එතකොට ඒ නෙළුම් දණ්ඩෙ පහළ ඉඳලා උඩටම යනකල් තෙත් වෙලා තියෙනවා. ආන්න ඒ වගේ තමයි, ප්‍රීතියෙන් තොර වූ සැපය,

ප්‍රීතියට නොයන සැපයෙන් යුතුව හොඳට සැපයෙන්ම තෙත් වෙවී තෙත් වෙවී තියෙනවා, ඒ තුන්වෙනි ධ්‍යානයේ ස්වභාවය. ඊළඟට පින්වතුනි හතරවෙනි ධ්‍යානය. උපේක්ෂාව තමයි සම්පූර්ණයෙන්ම හතරවෙනි ධ්‍යානය පුරාම පැතිරිලා තියෙන්නෙ. සුදු රෙද්දකින් මනුස්සයෙක් සම්පූර්ණයෙන් වැහුවට පස්සෙ සම්පූර්ණයෙන්ම එයා සුදු රෙද්දෙන් වැහිලා. ඒ වගේ තමයි කියනවා උපෙක්ෂාවෙන් එයා සම්පූර්ණයෙන් වැහිලා ඉන්නෙ. හතරවෙනි ධ්‍යානය. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඔය විදියට ඒ ධ්‍යාන හතර මනාව වඩලා ඒ තුළින්ම නිකෙලෙස් වෙච්චි අය ඉන්නවා. ඉතින් ඒ ශ්‍රාවකයො ශාස්තෘන් වහන්සේට කොහොමටත් ගරු කරනවානෙ කිව්වා. ඊළඟට ඒ ශ්‍රාවකයා මොකද කරන්නෙ, ඔය විදියට සමාධිය වඩලා වඩලා දකිනවා, මේ මාතා පිත්තික සම්භවය, එහෙම නැත්නම් මව්පියන්ගේ එකතුවීමත් එක්ක ඉල්ලීම් පිරිමැදීම් සහිත මේ තියෙන ශරීරය ගැන හොඳට සමාධියෙන් විමස විමසා බලනකොට මෙයාට පේනවා මේ ශරීරය ඇතුලෙමයි විඤ්ඤාණය කිඳා බැහැලා තියෙන්නෙ. හරියට රතු පලසක හොඳ මැණිකක් තියෙනකොට ඒ මැණික දිහා බලනකොට මැණික ඇතුලෙන් නූලක් ගිහිල්ලා තියෙනවා නම් ඒක පේනවා වගේ හොඳට මේ සතර මහා ධාතුවෙන් හටගත්ත, අම්මා තාත්තාගේ එකතුවෙන් හටගත්ත ඉල්ලීම්, පිරිමැදීම් තියෙන කන, බොන මේ ශරීරය පුරා විඤ්ඤාණය ප්‍රතිබද්ධ වෙලා තියෙන හැටි පේන්න පටන් ගන්නවා කියනවා සමාධිය හොඳට දියුණු කලාට පස්සෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, හොඳට මෙයා මේක වඩනවා. ඒ තුළින්ම ධර්මාවබෝධය කරනවා. ඊළඟට කෙනෙක් වඩනවා, මේ ශරීරය හොඳට සමාධිමත් කරලා, සමාධිමත් කරලා මේ හතරවෙනි ධ්‍යානයත් එක්කම මෙයාගේ ශරීරය මේ විදියෙම ඇස්, කන්, නාසා ආදී ඉඳුරන් සහිත කයක් එළියට ගන්නවා. ඒකට මොකක්ද කියන්නෙ, මනෝ කය. තණකොළ ගහකින් ගොබය ඇදලා ගන්නවා වගේ. එතකොට තණකොළ ගහ වෙනයි, ගොබය වෙනයි. හැබැයි මේක ඇදලා ගත්තෙ තණකොළ ගහෙන්මයි. ඒ වගේම තමයි මේ වගේම කෙනෙක් එනවා ඉස්සරහට. එතකොට දෙන්නා දෙන්නෙක්. නමුත් මේ ඇඟෙන්මයි ගත්තෙ. එතකොට මේ ඕලාරික රූපය මෙහෙම තියෙද්දි මනෝකය දිව්‍ය ලෝකෙට යවන්න පුලුවන්. ඊළඟට කොපුවකින් කඩුව ඇදලා ගන්නවා වගේ. කොපුව වෙනයි, කඩුව වෙනයි. හැබැයි කොපුවෙන් තමයි කඩුව ගත්තෙ. ඊටපස්සෙ නයිපෙට්ටියෙන් නයෙක් එළියට ගත්තා වගේ. නයි පෙට්ටිය වෙනයි, නයා වෙනයි. හැබැයි අර නයිපෙට්ටියෙන්මයි ගත්තෙ. ඒ වගේ තමයි මේ වගේ

ශරීරයක්ම ගන්න පුලුවන් සමාධියෙන් මනෝකය විදියට එළියට. දෙකම එක වගේ. නමුත් මේ ශරීරයෙන් තමයි ගන්නෙ. මනෝකයෙන් ඕලාරික ඇඟ ගන්නෑ. ඕලාරික ඇඟෙන් මනෝකය ගන්නෙ. ඉතින් මේවා ශ්‍රාවකයො කරනවා කිව්වා. කවුද ප්‍රතිපදාව කියලා දෙන්නේ බුදුරජාණන් වහන්සේ. ඉතින් බුදුරජාණන් වහන්සේගේ ප්‍රතිපදා දේශනාවට පහදිනවා, ශ්‍රාවකයා. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ උපදෙස් අනුව ඍද්ධි ප්‍රාතිහාර්ය පානවා ශ්‍රාවකයො. ඒක උපමාවකින් කියනවා, මැටි වලින්, අමු මැටි වලින් ඕන ඕන දෙයක් හදන්න පුලුවන්නෙ. ඒ විදියට ඍද්ධි ප්‍රාතිහාර්ය, අහසින් යන ඒවා, කැමැති කැමැති විදියට කරන්න පුලුවන්. ඊළඟට දිව්‍ය ශ්‍රවණය. බුදුරජාණන් වහන්සේ දේශනා කලා ශ්‍රාවකයෝ දිව්‍ය ශ්‍රවණය වඩනවා. ඒ දිව්‍ය ශ්‍රවණය ඕන තැනක, ඕන දුරක තියෙන එකක් අහන්න පුලුවන්. හරියට යම්කිසි කෙනෙක් හක්ගෙඩියක් හොඳට මනාව පිඹිනකොට හොඳට ඇහෙන්නෙ ඒ වගේ ඕනම හඬක් ඇහෙන්නට පුලුවන්. ඒකට කියනවා දිව්‍ය ශ්‍රවණය. ඊළඟට තියෙනවා පරචිත්ත විජානන ඥාණය ශ්‍රාවකයො උපදවාගන්නවා. ඒක හරියට පරචිත්ත විජානන ඥාණය කියන්නෙ හිත බලන එකනෙ. එතකොට ඒක හරියට දිය බඳුනෙන් මූණ බලනවා වගේ කියනවා. ලස්සන පිරිසිදු තියෙන දිය බඳුනකින් ගිහිල්ලා මුහුණ බලනකොට හොඳට පේනවානෙ. ඒ වාගේ අනිත් එක්කෙනාගෙ හිත හොඳට පේනවා. ඉතින් අර වෙලාව අනුව, නැත්නම් ඒ හිතේ තියෙනවා සලාගංවා චිත්තං විරාගංවා චිත්තං සදෝසංවා වීතදෝසංවා, හැකිලුනු හිත, ඊළඟට ප්‍රභාෂ්වර හිත ඒ වගේ හිතේ එක එක ස්වභාවයන් තියෙනවා. ඉතින් ඒවා පේන්න ගන්නවා. අර දියබඳුනෙන් මූණ පේන්න ගන්නවා වගේ අනිත් එක්කෙනාගෙ හිත පේනවා. එයාගෙ හිත රාග සහිතයි ද, දෝෂ සහිතයි ද, මෝහ සහිතයි ද හොඳට පේනවා. ඉතින් ඒ පරචිත්ත විජානන ඥාණය ශ්‍රාවකයෝ උපද්දවනවා. ඊටපස්සෙ පුබ්බේනිවාසානුස්මෘති ඥාණය, පෙරජීවිත බැලීම. එතකොට පෙර ජීවිත බලනවා කියන එක උපමාවකින් කියතොත් ගමින් ගමට ආවට පස්සෙ, දැන් ඔන්න මම පොල්ගහවෙල හරි කොළඹ හරි කොහෙහරි ඉන්නවා. එතකොට මට වැලිමඩ කිව්ව ගමන් එහේ විස්තර ටික මට මතක් වෙනවා. ඒ වගේ එයාට ගමකින් ගමකට ආවා වගේ පෙර ජීවිත කල්ප ගණන් කලින් ඒවා මතක හිටිනවා කියනවා, පේනවා කියනවා, පුබ්බේනිවාසානුස්මෘති ඥාණයට. ඊළඟට චුති උපත. මැරෙන, උපදින හැටි පේනවා. හතරමං හන්දියක කෙනෙක් හිටියට පස්සෙ හතරමං හන්දියක ගොඩනැගිල්ලක් මුදුනේ ඉන්නවා. එතකොට අර පාරෙ යන අය මේ

පාරෙ, මේ ගෙදරින් අර ගෙදරට ගියා, අර ගෙදරින් මේ ගෙදරට ගියා, ඔක්කෝම පේනවා. ඒ වගේ මෙන්න මැරුණා අහවල් තැන ඉපදුනා, මෙන්න මැරුණා අහවල් තැන ඉපදුනා. ඔක්කෝම පේනවා. චුතිය උපත. ඊටපස්සෙ ආසවක්ඛය ඥාණය උපදිනවා. ආසවක්ඛය ඥාණය කියලා කියන්නෙ අර්හත්වය. හොඳට ආස්‍රව පේනවා. ඒ ආස්‍රවක්ෂය ඥාණය උපදිනකොට ඒ කන්දක් මුදුනේ තියෙන පොකුණක් තියෙනවා. ඒ පොකුණට කොළ වැටෙන් නෑ කොහෙන්වත්. හොඳට වතුරු පැහැදිලියි. ඒක තියෙන්නෙ ඇතුලෙ සිප්පි, බෙල්ලො ඔක්කොම, ඊළඟට මාළු යන එන ඒවා, මච්ඡ ගුම්බම්පි තරත්තම්පි චිත්තතම්පි, මාළු යන හැටි එන හැටි ඉන්න හැටි ඔක්කොම පේන්න ගන්නවා. ඒ වගේ ආස්‍රව හොඳට කාමාස්‍රව, භවාස්‍රව, අවිජ්ජාස්‍රව හොඳට තේරෙනවා. ඒවා අවබෝධ වෙනකොට නිකෙලෙස් වෙනවා. මේක තමයි අභිඥා හය. මොනවද ඍද්ධිවිධ ඥාණය, දිබ්බචක්ඛු ඥාණය, දිබ්බසෝත ඥාණය, ඊළඟට පරචිත්ත විජානන ඥාණය, ඊළඟට පුබ්බේනිවාසානුස්මෘති ඥාණය, ඊළඟට චුතූපපාත ඥණය, ආසවක්ඛය ඥණය. මේවට තමයි අභිඥා හය කියන්නෙ. ෂඩ්අභිඥා. මේ ෂඩ්අභිඥාවන්ගෙන්ම පරතෙරට පත් හතර දෙනෙක් ශ්‍රාවකයො හිටියා පරතෙරටම ගිය. ඒ තමයි සාරිපුත්ත මහරහතන් වහන්සේ, මුගලන් මහරහතන් වහන්සේ, බක්කුල මහරහතන් වහන්සේ, යශෝධරා මහරහත් තෙරණිය. ඉතින් ශ්‍රාවකයෝ මේවා උපද්දවා ගන්නවා කියනවා. ඉතින් ඕවා උපද්දවා ගත්තට පස්සෙ පහදිනවා කියනවා, ශාස්තෘන් වහන්සේට ගරු කරනවා කියනවා. ඉතින් අනේ සාදු, සාදූ කියලා අනුමෝදන් වුනා සකුළුදායී. ඉතින් සකුළුදායිටත් එතනින් එහාට නෑ පිරිවැජියෙක්. හැබැයි භාග්‍යවතුන් වහන්සේ මෙච්චර දේශනාවක් කලේ නම් මොකාක්හරි හේතුවක් ඇතිව. එතන අපිට සකුළුදායී පෙනුනාට මෙතන දෙව් මිනිසුන් තව කීදෙනෙක් ඉන්න ඇතිද. ඉතින් බොහෝ දෙනාට යහපත පිණිස වදාළා. එතකොට අපි අද උතුම් සම්බුදු සරණ අපේ ජීවිතයට පිළිසරණ පිණිස, විශේෂ බුදුගුණ පහදීම පිණිස, සිහි කිරීම පිණිස, විශේෂ බුදුගුණ පහක් බුදුරජාණන් වහන්සේ කෙරෙහි ශාස්තෘ ගෞරවය ඇතිවෙන විදියට සිහි තබා ගත යුතුයි, ඒ තමයි බුදුරජාණන් වහන්සේගේ උතුම් සීලය, බුදුරජාණන් වහන්සේගේ සොඳුරු ඥාණදර්ශනය, බුදුරජාණන් වහන්සේගේ අධිප්‍රඥාව, ඊළඟට බුදුරජාණන් වහන්සේ අන් අයට සතුටු වන ආකාරයෙන්, අන් අයට වැටහෙන ආකාරයෙන් චතුරාර්ය සත්‍යය දේශනා කිරීම, අනිත් එක තමයි බුදුරජාණන් වහන්සේ ප්‍රතිපදාව දේශනා කරනවා ශ්‍රාවකයාට නිකෙලෙස් වීම පිනිස. ඉතින් ඒවගෙන්

ෂඩ්අභිඥා සහිතව ශ්‍රාවකයෝ මගඵල ලබන්නෙ. ඉතින් ඒ නිසා මේ සා අනන්ත ගුණ සමුදායකින් වැඩ සිටියා වූ, අනන්ත සීලස්කන්ධයක් ඇති, සොඳුරු ඥාණදර්ශණයක් ඇති, අධිප්‍රඥාවක් ඇති, මනාව චතුරාර්ය සත්‍යය ධර්මය විග්‍රහ කරන, මනාව නිකෙලෙස් වීම පිණිස ප්‍රතිපදාව දේශනා කරන ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ මුළු හදවතින්ම සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. නිවන් දකිනා මොහොත දක්වා ඒ උතුම් සරණම ඔබව සුවපත් කරත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් පින්වත්නි අද දවසේ අසිරිමත් සම්බුදුසරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ අනුරාධපුරයේ පදිංචිව සිටින පින්වත් ලක්මිණි මධූකා, තනූජා සඳමාලි, රාජාංගනයේ පදිංචිව සිටින පින්වත් අමිල සංජීව, ලක්මාලි මධුෂිකා, එච්.ඩී. රම්‍යලතා, නිමල් කරුණාතිලක, ඥාණවතී නිහැරියපොළ මහත්මිය සහ මාතලේ පදිංචිව සිටින පින්වත් කරුණා සමරනායක, සුරංග කුරුප්පුආරච්චි, පියුමිකා රත්නායක යන මහත්ම මහත්මීන් විසින්. අපි පළමුවෙන්ම ලෝකයටම සෙත් පතමු. තුන් ලෝකයෙන්ම ගරු සත්කාර සම්මාන ලැබෙන, තුන් ලෝකයේ එකම ශාස්තෘන් වහන්සේ ශ්‍රාවකයන් මනාසේ ශාස්තෘත්වය උතුම් කොට සලකන ගරු කරන මේ ගෞතම බුද්ධ ශාසනයේ අනුහසින් රටටත් ලෝකයටත් පැමිණ තිබෙන ව්‍යසන, කරදර පීඩා, ලෙඩදුක් ආදිය දුරින්ම දුරු වෙලා මිනිසුන්ට සැනසිල්ල රැකවරණය සැලසේවා කියලා, සියලු දෙවියෝ පින් අනුමෝදන් වෙලා සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා පින් පමුණුවනවා. මියපරලොව ගිය සියලූම ඥාතීන්ට මේ පින් අනුමෝදන් කරමු. ඒ තමයි විමල් කරුණාතිලක මහත්මයා සහ එච්.ඩී. රම්‍යලතා මහත්මියගේ නමින් මියපරලොව ගිය දෙමාපියන්ට මේ පින් අනුමෝදන් කරමු. ඒ වගේම කරුණා සමරනායක මහත්මියගේ මියපරලොව ගිය මෑණියන්ට පින් අනුමෝදන් කරනවා. ඒ වගේම ඔබ කවුරුත් නමින් මිය ගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා. ඒ වගේම මේ සියලු පින් අනුමෝදන් වෙත්වා අපගේ පරම පූජනීය, ගුරුදේවෝත්තම, කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ පින් බලයෙන් නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා. ඒ වගේම පරම පූජනීය, ගුරුදේවෝත්තම, කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට සහ ගරුතර මහා සංඝරත්නයට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ගෞතම බුදුරජාණන් වහන්සේගේ සසුනේ

ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම අනුරාධපුරයේ සිට සම්බන්ධ වෙන මේ පින්කමට ලක්මිණි මධුකා, තනූජා සඳමාලි, ඒ වගේම රාජාංගනයේ සිට පින්වත් අමිල සංජීව, ලක්මාලි මධුෂිකා, ඒ වගේම එච්.ඩී. රම්‍යලතා, විමල් කරුණාතිලක, ඥාණවතී නිහැරියපොළ, ඒ වගේම මාතලේ සිට කරුණා සමරනායක, සුරංග කුරුප්පුආරච්චි, පියුමිකා රත්නායක යන මහත්ම මහත්මීන් අද විශාල පිනක්, බුදුරජාණන් වහන්සේගේ විශේෂ ගුණකඳක් ලෝකයට කියන්න මූලික වෙලා ඔබ බොහෝ පින් රැස් කරගත්තා, බුදුරජාණන් වහන්සේගේ උතුම් සීලය, බුදුරජාණන්වහන්සේගේ සොඳුරු ඥාණ දර්ශනය, බුදුරජාණන් වහන්සේගේ අධිප්‍රඥාව, බුදුරජාණන් වහන්සේගේ චතුරාර්ය සත්‍යය ධර්ම විග්‍රහය, බුදුරජාණන් වහන්සේ නිකෙලෙස් වීම පිණිස තියෙන වැඩපිළිවෙල දේශනා කලා. එයින් ශ්‍රාවකයෝ බොහෝ ශාස්තෘන් වහන්සේට ගරු කරනවා, සත්කාර කරනවා, සම්මාන කරනවා, යටහත් පහත් වෙනවා, ශාස්තෘ ගෞරවයෙන් යුක්තයි. ඉතින් ඒ බුදුගුණ ලෝකෙට අහන්න සලස්වපු පින් බලයෙන් ඔබ සියලු දෙනා සුවපත් වේවා. සත්පුරුෂ ඇසුරම සැලසේවා. නිවනින් සැනසෙත්වා කියලා පින් පමුණුවනවා. ඒ වගේම මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන් කාටත් ඔබ සියලු දෙනාටත්, ලක්විරු ගුවන්විදුලියේ ශ්‍රද්ධා රූපවාහිනියේ සියලුදෙනාට, කාර්යමණ්ඩලයේ, ඒ වගේම දායකත්වය සපයන සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් ඒ භාග්‍යවතුන් වහන්සේ මහා කරුණාවෙන් වදාළ ඒ උතුම් ශ්‍රී සද්ධර්මය අවබෝධ කරගැනීම පිණිස අසිරිමත් සම්බුදු සරණම සැලසේවා, නිවනින් සැනසෙත්වා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා, තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=7gkqUSIxrTE&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=51

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දින අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන ශ්‍රද්ධා රූපවාහිනියෙනුත්, ලක්විරු ගුවන්විදුලියෙනුත් විකාශනය කරවන්නට දායකත්වය දරනවා ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් සමන්තා විජේසිංහ මහත්මිය සහ ශ්‍රීමින්ද මානගේ මහත්මයා විසින්. ඉතින් මේ පින්වතුන් අද දවසේ විශාල පිනක් රැස් කරගන්නවා ගෞතම බුදුරජාණන් වහන්සේගේ ඒ උතුම් ශ්‍රී සද්ධර්මය අහන්න සලස්වලා ලෝක සත්ත්වයාට. ඉතින් ඒ නිසා ධර්ම දානයේ පින මහත්ඵලයි, මහානිසංසයි. ඒ ගැන හිතලා මේ පින්වතුන් පළමුවෙන් සන්තෝෂයට පත්වෙන්න. අපි සරණ ගිය තථාගතයන් වහන්සේගේ බුදුගුණ කඳ අනන්තයි, අප්‍රමාණයි කියලා ඔබ අහලා තියෙනවා. බුදුගුණ භාවනා කරනකොට, බුදුගුණ වන්දනා, බුදුගුණ පූජා පවත්වනකොට, බුදුගුණ අනන්තයි, බුදුගුණ අනන්තයි කියලා කියනවා. එතකොට ඔබට දැන් තේරෙන්න ඕන බුදුගුණ අනන්තයිමයි කියලා. මොකද අපි දැන් බොහෝ කාලයක ඉඳලා මේ දහම් වැඩසටහන කරන්නෙ. එතකොට තාම බුදුගුණ දේශනාව ඉවර නෑ, එච්චර බුදු ගුණ. ඉතින් අද ධර්ම දේශනාවත් පෙර නොඇසූ විරූ බුදුගුණ අටක් තියෙන දේශනාවක් අද අපි ඉගෙන ගන්නෙ. මේ දේශනාව අපි කෙළින්ම ඉගෙන ගමු, මේ දීඝ නිකායේ දෙවෙනි පොත් වහන්සේගේ තියෙන මහා ගෝවින්ද සූත්‍රය. මේ දේශනාවෙන් බුදුගුණ ඉගෙන ගන්නත් පුලුවන්, ජාතක කතාවත් ඉගෙන ගන්න පුලුවන්. බුදුරජාණන් වහන්සේගේ ප්‍රඥා පාරමිතාව, ප්‍රඥාව. අපි ඒ නිසා දීර්ඝ දේශනාවක් නිසා කෙලින්ම අපි දේශනාව ආරම්භ කරමු. ඒ කාලේ අපගේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ වැඩහිටියේ රජගහනුවර ගිජ්ජකූට පර්වතයේ ගන්ධකුටියේ. අදටත් එහි පාදම දකින්න ලැබෙනවා. දෙනෝදහසක් ජනීජනයා භාග්‍යවතුන් වහන්සේගේ ගන්ධකුටියට නළල තියලා වන්දනා කරනවා. බොහෝ දෙනාට යහපත පිණිස පවතින, පින්රැස් වෙනවා ගිජ්ජකූටයේ ගන්ධකුටි වන්දනාවෙන්. ඉතින් ඒ කාලෙ බුදුරජාණන් වහන්සේ ගිජ්ජකූටයේ වැඩහිටියේ. එකල්හි පඤ්චසිඛ ගාන්ධර්ව දිව්‍ය පුත්‍රයා මධ්‍යම රාත්‍රියේ මනස්කාන්ත පැහැයකින් යුතුව

මුළුමහත් ගිජ්ජකූටයම බබළවාගෙන බුදුරජාණන් වහන්සේ ළඟට වැඩම කලා. මේ පඤ්චසික බොහෝ කාලයකට කලින් ඉතාමත් ඈත අතීතයේ මනුස්ස ලෝකයේ හිටපු ගොපළු දරුවෙක්. මේ ගොපළු දරුවා හරී හොඳ කෙනෙක්. ගවයන් දක්කගෙන ගිහිල්ලා තණකොළ තියෙන පැත්තකට ගවයන් ටික අතහැරලා, ඔහු කරන්නෙ උදලු කෙටියක් අරන් පාරෙ තියෙන වලවල් වහනවා. වතුර යන්න නැතිව පාරවල් හෑරෙන තැන් බලලා කාණු කපනවා. මිනිසුන්ට යන එන තැන් අමාරු තැන් බලලා ඒදඬු දානවා, ගස් කපලා ඒදඬු හදනවා. ඊට පස්සෙ මිනිස්සු මහාන්සියෙන් ඉන්න තැන් වල ලොකු මැටි කල ගෙනල්ලා වතුර පුරවලා තියනවා. හරකුත් බලාගන්නවා. බොහෝ ජනයාට සුවය හදලා ඔහු ගිහිල්ලා ඉපදුනා - තරුණ කාලෙම මැරුණා, මං හිතන්නෙ සර්පයෙක් ගහලා වෙන්න ඇති කැලේ යනකොට. අවුරුදු දාසයේ, දාහතේ වගේ තරුණ කාලෙම පුංචි කාලෙම මැරුණා, අර කරගත්ත, පුංචි කාලෙම හොඳහිතක් තිබ්බ නිසා, අවුරුදු දාසයක වගේ පුංචි දරුවෙක්, තරුණ පුතෙක් ඔය වගේ මිනිස්සුන්ට සේවය කරනවා කියලා කියන්නෙ කොච්චර හොඳ එකක්ද. ඊට පස්සෙ ඒ දරුවා බ්‍රහ්මචාරී කෙනෙක්. ඉතින් ඒ වාගේ හොඳ ගුණධර්ම මුල් කරගෙන, හැබැයි තරුණ කාලෙම මැරුණා, මැරිච්ච ගමන් ගිහිල්ලා ඉපදුනා චාතුම්මහාරාජිකයේ, මනුස්ස අවුරුදු ලක්ෂ අනූවයි ආයුෂ, ඒ පුදුම කර්ම විපාකයක්. ඒ තරුණ කාලෙදිමනෙ මැරුණෙ. අවුරුදු දාසයේ පුතෙක් වගේම තමයි ඉපදුනෙත්. ඒ නිසා පඤ්චසික, පඤ්චසික දිව්‍ය පුත්‍රයා බොහෝම තරුණ ස්වරූපයෙන් ඔහු කොණ්ඩෙ බඳිනවා රැළි පහක් හිටින විදියට, ඉතින් කොණ්ඩ පහක් කියන එක තමයි පඤ්චසික කියන්නෙ. හොඳ දිව්‍ය පුත්‍රයෙක්. මිහිරට ගීත වාදනය කරන්න පුලුවන්. වයන්න පුලුවන්. ඉතින් ඒ පඤ්චසික ශාස්තෘන් වහන්සේ සරණ ගියා. ශ්‍රී සද්ධර්මය සරණ ගියා, ආර්ය මහා සංඝරත්නය සරණ ගියා. දවසක් බුදුරජාණන් වහන්සේ ගිජ්ජකූටයේ වැඩ ඉන්න කාලයේ, මුළු ගිජ්ජකූටයම බබුළුවාගෙන බුදුජාණන් වහන්සේ ළඟට මේ ආවෙ. බුදුරජාණන් වහන්සේට වන්දනා කරලා එකත්පස්ව හිටගත්තා. සාමාන්‍යයෙන් දෙවිවරු හිටගෙන තමයි බණ අහන්නෙ. ස්වාමීනී, - දැන් පඤ්චසික කියනවා වන්දනා කරලා - මා මේ තව්තිසා දෙවියන් ඉදිරියේ යමක් අසන ලද්දේ ද, පිළිගන්න ලද්දේ ද. මං තව්තිසා දෙවියන්ගෙන් යම් කතාවක් ඇහුවා. ඒක බුදුරජාණන් වහන්සේ ඉස්සරහ කියන්න පුලුවන් ද? පඤ්චසික, ඒකට අවසර දෙනවා කියන්න. ස්වාමීනී මේක බොහෝ පෙර දවසකට කලින් සිද්ධ වෙච්චි දෙයක්. ස්වාමීනී ඒ දවස්වල වස් පවාරණය කාලේ. දෙවිවරු දිව්‍ය සුධර්මා ධර්ම සභාවට එකතු

වුනා. ඒ සක්දෙවිඳුට ඒ දිව්‍ය සුධර්මා සභාවේ මනස්කාන්ත ආසනයක් පනවලා තිබෙනවා. සතර දිශාවේ දතරාෂ්ට්‍ර, විරූඪ, විරූපාක්ෂ, වෛශ්‍රමණ සතරවරම් දෙවියන්ට මනස්කාන්ත ආසන පනවා තියෙනවා. අනික් දෙවිවරුන්ට ඒ දිව්‍යානුභාවයෙන් ආසන පහළ වෙලා තියෙනවා. දිව්‍ය වූ සුධර්මා දිව්‍ය සභාවේ මනස්කාන්ත වූ සුවඳ පැතිරිලා තියෙනවා, අනේක පුෂ්පයන්ගෙන් සුසැදිව තිබෙනවා. සක් දිව්‍ය රජාණෝ, දේවා නමින් වූ සක්දෙවිඳු සුධර්මා දිව්‍ය සභාවේ අග්‍ර වූ ආසනයේ අසුන් ගත්තා. සුධර්මා දිව්‍ය සභාවේ සක්දෙවිඳු ආසනාරූඪ වුනාට පස්සෙ තිස්තුනක් සක්දෙවිඳුගේ යාළුවෝ. තිස් තුන් දෙනා, ඒ දිව්‍ය පුත්‍රයෝ තිස් තුන් දෙනා අසුන් ගත්තා. ඊටපස්සෙ සතරවරම් දෙවියොත් දිසා හතරෙ අසුන් ගත්තා. ඊටපස්සෙ සෙන්පති දෙවිවරු ඊටපිටිපස්සේ සතරවරම් දෙවියන්ට පිටිපස්සෙන් තමයි මම අසුන්ගෙන හිටියේ. ඉතින් ස්වාමීනී මෙහෙම අපි බොහෝම සන්තෝෂෙන් දිව්‍ය සභාවේ කතා කරන්න සූදානම් වෙනකොට සක්දෙවිඳු, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස සක්දෙවිඳු ඉතාමත් සන්තෝෂයට පත්වුනා. ඇයි ඒ? මේ අලුතෙන් ඉපදුනු දිව්‍ය පුත්‍රයෝ, බුදුරාජණන් වහන්සේගේ ශාසනයෙන් පින් කරගෙන මෑත භාගයේ දිව්‍ය ලෝකයේ ඉපදිච්චි දෙවිවරු පුදුම ආනුභාව සම්පන්නයි, බබළනවා. හරිම ආනුභාවසම්පන්නයි. දැන් තමයි දිව්‍ය ලෝකෙ කට්ටිය වැඩිපුරම උපදින්නෙ. ඒ නිසා සක්දෙවිඳුට හරීම සතුටුයි. බෝදන්තේ වතබෝ දේවා තාවතිංසස්ස ඉන්දකා. දෙවියන් සහිත සක්දෙවිඳු, තව්තිසාවේ හරීයට සතුටට පත්වුනා. කායං ති අසුරා කාය, අසුරයෝ අඩු වෙලා යනවා. ඊළඟට දිව්‍ය පිරිස පිරී යනවා කියලා සංතෝෂයට පත්වෙනවා. ඉතින් ස්වාමීනී ඔය වෙලාවේ - දැන් බලන්න දෙවිවරු සතුටට පත්වෙනවා අලුත් දෙවිවරු දැකලා. මේක හොඳයි ඔන්න ඔබටත්. දැන් සමහර අය ඉන්නවා බණ අහන්න කලින් ආපු අය. ඊළඟට පන්සල් වල, අසපු වල, ආරාම වල, වෙහෙර විහාර වල දායකයො වෙලා ඉස්සර ඉඳලා. අලුතෙන් කවුරුහරි ඇවිල්ලා වැඩක් කලොත් අළුතෙන් කවුරු හරි ඇවිල්ලා වැඩක් කලොත්, අලුතනේ කවුරුහරි ඇවිල්ලා බණක් ඇහුවොත් රුස්සන්නෙ නෑ. අපි ඉස්සෙල්ලා ආපු අය, මුන්ට තමයි දැන් තැන ඇවිල්ලා තියෙන්නෙ. අපිව දැන් ගණන් ගන්නෙවත් නෑ. දැක්කද දිව්‍යලෝකෙක නම් යන්න වෙන්නෙ නෑ. දැන් මේ බලන්න දෙවිවරු. දෙවිවරු හරී සතුටුයි අලුතෙන් දෙවිවරු උපදිනවාට. හරිම සතුටුයි. දැන් මනුස්ස ලෝකෙ කොහොමද, අපි ඉස්සර අය, උඹලා අපෙන් අහලා වැඩ කරපල්ලා. දැන් වෙනම මෙතන ඇවිල්ලා අමුතු රඟපෑම් කරන්න හදන්න එපා අලුතෙන් ඇවිල්ලා. කියලා හාමුදුරුවන්ටත් බනිනවා. මේ හාමුදුරුවන්ට මුල මතක නෑ. කෙලෙහිගුණ නෑ.

එතකොට ඒ මිනිස්සුන්ට කෙලෙහිගුණ ගැන කියලා දුන්නෙ කවුද කියලත් මතක නෑ. එතකොට එයාටත් කෙලෙහිගුණය නෑ. එතකොට මේ හාමුදුරුවන්ට කෙලෙහිගුණ නෑ, මුල මතක නෑ. ඉස්සර පරණ කට්ටිය කපලා දාලා අලුත් අය තමයි දැන් හාමුදුරුවන්ටත් ලොකු. බලමුකො ඉතින් කියලා ලස්සනට යනවා විතර්ක, විචාර, ප්‍රපංච, ලස්සනට යනවා හිත්වල. ධර්මය නෑ. ඉතින් ඒ නිසා බලන්න දිව්‍ය ස්වභාවය. හරියට සතුටු වෙනවා අලුතින් දෙව්ලොව උපදින අය ගැන. ඉතින් සක්දෙවිඳු මේ විදියට දෙවියන් අතර දහම් කතාව ආරම්භ කලා. මෝදංති වත භෝ දේවා තාවතිංසාස ඉන්දකා තථාගතං නමස්සන්තා ධම්මස්ස සුචිධම්මතං. භවත්නි ඒකාන්තයෙන් ඉන්ද්‍ර දෙව්රජ ප්‍රමුඛ තව්තිසා දෙවියෝ තථාගතයන් වහන්සේට ද, ශ්‍රී සද්ධර්මයට ද, උතුම් පිළිසරණට ද වඳිමින් ප්‍රීතියට පත්වුනා. නවේ දේවා පස්සන්තා වන්නවන්තේ යසස්සිනේ සුගතස්මිං බ්‍රහ්මචරියස්මිං චරිත්වානි දාගතේ. සුගතයන් වහන්සේගේ ශාසන බඹසර හැසිරිලා, අලුතින් උපන් දෙව්වරු ඉතාමත් යසසින් පැහැයෙන් අනිත් දෙව්වරු අභිබවා බබලනවා. බුදුරජාණන් වහන්සේ සරණ ගිය අය - එතන බඹසර කියලා කියන්නේ කාරණා කිහිපයක්. එකක් තමයි දන්පැන් පූජා කරමින් ශාසනයේ පින් කර ගන්න අයටත් කියනවා බඹසර කියලා. ඊටපස්සෙ සිල් රකින සීලයක් විදියට කාම ඇසුරෙන් වෙන් වෙලා වාසය කරන එකටත් බඹසර කියනවා. ඊළඟට ස්වදාර සන්තෘෂ්ටියෙන්, තමන්ගේ බිරිඳගෙන් තමන්ගේ ස්වාමියාගෙන් පමණක් සතුටු වෙන එකටත් බඹසර කියනවා. ධර්ම ප්‍රචාර කටයුතු කරන එකටත් බඹසර කියනවා. ගෞතම බුද්ධ ශාසනයටත් බඹසර කියනවා. ආර්ය අෂ්ටාංගික මාර්ගයටත් බඹසර කියනවා. එතකොට මේ බුද්ධ ශාසනයේ කොයිම ආකාරයකින් හරි පිළිසරණ හදාගන්නවා. ඉතින් ඒකට දෙව්වරු කියන්නේ බුද්ධ ශාසනයේ බඹසර හැසිරිලා ආවා කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ තෙරුවන් සරණ ගිහිල්ලා දිව්‍ය ලෝකෙ ගියාට පස්සෙ අනිත් දෙව්වරු අතර වෙනමම බැබලෙනවා කියනවා. ඊටපස්සෙ තියෙනවා තේ අඤ්ඤේ අතිරෝචං ති වන්නේන යච්චසායුනා සාවකා භූතිපඤ්ඤස්ස විසේසෝපිගතා ඉද, අනිත් දෙව්වරුන්ට වැඩිය බබලනවා වර්ණයෙනුත්, යසසිනුත්, ඒ වගේම ආයුෂයෙනුත්. භූරිපඤ්ඤ, මහත් වූ නුවණක් තියෙන බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයන් විශේෂ පිළිසරණ ලබාගෙන මෙහෙ ආවට පස්සෙ ඔය විදියට බබළනවා. ඉදං දිස්වාන නන්දන්ති තාවතිංසාස ඉන්දකා තථාගතං නමස්සන්තා ධම්මස්සච සුධම්මතන්ති, ඉතින් කියනවා තාවතිංස දෙව්වරු

තථාගතයන් වහන්සේටත් තථාගත ධර්මයටත් උතුම් පිළිසරණටත් සක්දෙව්දු සහිතව ඉතාමත් ආදර ගෞරවයෙන් වදිනවා. ඉතින් මේ විදියට දෙවිවරු දිව්‍යලෝකෙ, දැන් බලන්න දිව්‍යලෝකෙ දිව්‍ය කතාබහ. දිව්‍යලෝකෙ දිව්‍ය සභාව. ඊටපස්සෙ දැන් පඤ්චසික, පඤ්චසික ඒ සභාවෙ ඉඳලාමයි ඇවිල්ලා මේ විස්තර ටික භාග්‍යවතුන් වහන්සේට කියාසිටින්නෙ. මේ මහා ගෝවින්ද සූත්‍රය. ඊටපස්සෙ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස දැන් සක්දෙව්දු සහිත දෙවිවරු පුදුම ප්‍රීතියට පත්වෙලා දැන් මෙහෙම ඉන්නකොට ස්වාමීනී සක්දෙව්දු දෙව්පිරිසට කිව්වා, නිදුක්වරුනි, ... ඔබලා කැමතිද බුදුරජාණන් වහන්සේගේ තියෙන්නා වූම ගුණ අටක් අහන්න. අර දෙවිවරු ඔක්කෝම එකහඬින් කිව්වා, තියෙන්නා වූම ගුණ අටක් අහන්න අපි කැමැතියි. දැන් අද කාලෙ බුදුගුණ අහන්න කැමැති නෑ. කෙලින්ම පටිච්චසමුප්පාදය කියන්න කියනවා. කෙලින්ම පඤ්චුපාදානස්කන්ධය කියන්න කියනවා. කෙළින්ම අභිධර්මය කියන්න කියනවා. සරල ඒවා එපා කියනවා. සරල හරියන් නෑ කියනවා. දැන් මේ සක්දෙව්දු සෝවාන්. සතරවරම් දෙවිවරු සෝවාන්. තිස්තුන්දෙනක් දෙවිවරු සෝවාන්. සෙන්පති දෙවිවරුන්ගෙන් ගොඩාක් අය සෝවාන් වෙච්චි අය. සක්දෙව්දුගේ සභාවේ ඉන්න ගොඩාක් දෙව් පිරිස මාර්ග ඵල ලබපු අය. ශාසනයේ පිහිට අරන් දෙව්ලොව ගිය දිව්‍ය පිරිස ඉන්නෙ. දැන් මොනවද දිව්‍ය සභාවේ කතා වෙන්නෙ, බුදුගුණනෙ. ඇහුවා මං බුදුගුණ අටක් කියන්නම්, අහන්න කැමැති ද? කැමැතියි කියලා කිව්වා. ඊටපස්සෙ කිව්වා එහෙනම් අහගන්න. භවත් තව්තිසා වැසි දෙවිවරුනි. මොකක්ද හිතන්නෙ මේ ගැන. අපේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ මොනතරම් නම් බොහෝ ජනයාට හිත පිණිස, බොහෝ ජනයාට සුව පිණිස, ලෝකානුකම්පාව පිණිස, දෙව්මිනිසුන්ගේ යහපත පිණිස, හිතසුව පිණිස පිළිපන් සේක් ද යත් බොහෝ ජනයාට හිතසුව පිණිස යහපත පිණිස, දෙව්මිනිසුන්ට හිතසුව පිණිස, මේ විදියට පිළිපන් මේ විදියේ ගුණයෙන් යුක්ත වූ ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත් දකින්න නෑ, කාශ්‍යප බුද්ධ ශාසනයෙන් මෙපිට කිසිම ශාස්තෘන් වහන්සේ නමක් නෑ මේ විදියට බොහෝ දෙනාට දෙව් මිනිසුන්ට හිතසුව පිණිස කටයුතු කරපු. ඒ වගේම වර්තමානයේවත් දකින්න නෑ බුදුරජාණන් වහන්සේ හැරුනුකොට. බොහෝ දෙනාට හිතසුව පිණිස පිළිපන්. බුදුරජාණන් වහන්සේගේ සෑම සිරිපාවක්ම එසවුනේ බොහෝ ජනයාට හිතසුව පිණිස. උන්වහන්සේ දුගී පැල්පතේ හෝ බමුණු සිටුකුලේ හෝ දුකින් මුදවා ගන්න බොහෝ දුර වඩිනවා. මහා වැස්සෙ තෙමෙනවා, අව්රැසින්

දැවෙනවා, කුසගිනිත් දැනෙනවා, බුදුසමිඳු වඩිනවා. උන්වහන්සේ දුගී පැල්පතට, බමුණු සිටු කුලයට වඩිනවා. කුඹුරට වඩිනවා. ඉතින් බුදුරජාණන් වහන්සේට එදාට දානය නෑ, ඒත් අන් අයගේ යහපත පිණිස කටයුතු කරනවා. පන්සාලිස් වසක් පුරාම ගෙවුනු සෑම තත්පරයක්ම බොහෝ දෙව් මිනිසුන්ගේ යහපත උදෙසාම ගතවුනා කියලා යමක් ඇත් ද, ඒ අපගේ තථාගත බුදුරජාණන් වහන්සේගේ ජීවිතයයි. තථාගත බුදුරජාණන් වහන්සේ වජිරාසනයේ සව්කෙලෙසුන් නසා පින්වතුනි සම්මා සම්බුද්ධත්වයට පත්වුනා. උන්වහන්සේගේ කෘත්‍යය නිකෙලෙස් බව අවසන්. එහෙනම් එදා ඉඳලා කියපු සෑම වචනයක්ම, ගතකරපු සෑම දෙයක්ම, පාත්‍රය අරගෙන යම්කිසි ගෙදරකට පිණ්ඩපාතය වඩිනවා නම් ඒ හිතසුව පිණිස, උන්වහන්සේ වසලයන්ගේ ගමට වඩිනවා නම් ඒත් හිතසුව පිණිස. අසූචි කද කරේ තියාගෙන යන සුනීතලා වගේ ඒ ඇත්තො යන පාරෙ බුදුරජාණන් වහන්සේ වඩිනවා. බොහෝ දෙනෙකුට හිතසුව පිණිස. ආලවකගේ විමානයට වැඩියා නම් හිතසුව පිණිස. පාණ්ඩුකම්බල ශෛලාසනයට වැඩියා නම් ඒත් හිතසුව පිණිස. බ්‍රහ්ම ලෝකයේ බ්‍රහ්මයා ළඟට වැඩියා නම් හිතසුව පිණිස. බුදුරජාණන් වහන්සේ හේතුවක් නැතිව, අර්ථයක් නැතිව තවත් කෙනෙක් ළඟට වඩින් නෑ. හේතුවක් නැතිව, අර්ථයක් නැතිව මාවතේ වඩින් නෑ. හේතුවක් නැතිව අර්ථයක් නැතිව සිරිපා සඟල තියන් නෑ. උන්වහන්සේගේ සෑම පියවරක්ම එසවුනේ බොහෝ ජනයාට හිතසුව පිණිස. ගොඩාක් අය දුකින් මිදුනා. නිරයේ යන අය නිරයෙන් ගොඩ ගියා. ගෙම්බා පවා ධර්මය අහලා සුගතියේ ඉපදුනා. කන්ථක අශ්වයා පවා සුගතියේ ඉපදුනා. ඊළඟට මීවදයක් පුදපු වඳුරා පවා දෙව්ලොව ඉපදුනා. පාරිලෙය්‍යක හස්ථියා පවා දෙව්ලොව ඉපදුනා. එදා නාලාගිරි දමනය වෙලා උඟ පඤ්චසීලයේ හික්මුනා. ඉතින් මේ විදියට තිරිසන් සත්ත්වයාට පවා යහපත ඇති වුනා. මිනිස්සු ගැන කවර කතා ද, අද කවුද සරණ ලබන්න ඉන්නෙ. අද කවුද පඤ්චසීලයේ පිහිටන්න ඉන්නෙ. අද කවුද පැවිදි වෙන්න ඉන්නෙ. අද කවුද මාර්ග ඵල ලබන්නෙ. අද කවුද අර්හත්වයට පත්වෙන්නෙ. මේ ගමේ හෝ මේ නගරයේ හෝ මේ ජනපදයේ හෝ මේ රටේ හෝ, වෙනත් රටක හෝ සිව්මහා දිවයිනේ හෝ දෙව්ලොව හෝ බඹලොව හෝ සක්වල හෝ දසදහසක් සක්වල හෝ කෝටි ප්‍රකෝටි ගාණක් සක්වල හෝ එතෙන්ට බුදුරජාණන් වහන්සේ වඩිනවා. බොහෝ දෙව් මිනිසුන්ට හිතසුව පිණිස පහළ වුනා. මෙවැනි වූ ශාස්තෘන් වහන්සේ නමක් පින්වත් දෙව්වරුනි, අතීතයේ වත් දකින්න නෑ. පින්වත් දෙව්වරුනි, වර්තමානයේත් අපගේ ශාස්තෘන් වහන්සේ හැර වෙන නම්

ශාස්තෘන් වහන්සේ නමක් බොහෝ දෙවි මිනිසුන්ට හිතසුව පිණිස පහළ වූ වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් නැත කියලා සක්දෙවිඳු බුදුගුණ කියන්න ගත්තා. සුධර්මා දිව්‍ය සභාවම සාදුනාදයෙන් ගිගුම් දුන්නා. මේ වනාහි දෙව්ලොව දහම් කතාවයි. ඊළඟට කියනවා පින්වත් දෙවිවරුනි, මෙයද අහන්න. තථාගතයන් වහන්සේ තුළ තියෙන දෙවෙනි සම්බුදුගුණය, ඒ තමයි තථාගතයන් වහන්සේගේ ධර්මය ඉතාමත් මැනැවින් දේශනා කලා. ස්වාඛාතෝ භගවතා ධම්මෝ, ඉතාමත් මැනැවින් දේශනා කලා. ඒ ධර්මයෙන් රාග ද්වේෂ මෝහ ප්‍රහාණය වෙනවා. ඒ ධර්මයෙන් දෘෂ්ටි ගැලවිලා යනවා. ඒ ධර්මයෙන් සත්‍යාවබෝධ වෙනවා. මනාකොට දේශනා කරන ලද ධර්මය, ස්වාක්ඛාතයි. ඒ ධර්මය සන්දිට්ඨිකයි, මේ ජීවිතයේදීම විපාක දෙනවා. ආයෙ පරලෝකෙදී අමුතුවෙන් හොයන්න දෙයක් නෙවෙයි, ඒ භාග්‍යවතුන් වහන්සේගේ ධර්මය මේ ජීවිතේදීම ප්‍රතිඵල ලැබෙන එකක්. සන්දෘෂ්ටිකයි. අකාලිකයි, මේ බුදුරජාණන් වහන්සේ වදාළ ධර්මය සෑම කාලකයටම සනාතන දහමක්. ඒ වගේම යම්කිසි කෙනෙක් සෝවාන් වුනොත් ඒ මොහොතෙම එයා සතර අපායෙන් නිදහස් වෙනවා. ඒ වගේම කෙනෙක් රහත් වුනොත් ඒ මොහොතෙම එයා සසර දුකින් නිදහස් වෙනවා. ඕනම කාලෙක ප්‍රතිඵල ලබාගත හැකි නිසා, අකාලිකයි. ස්වක්ඛාතෝ භගවතා ධම්මෝ සන්දිට්ඨිකෝ අකාලිකෝ ඒහිපස්සිකෝ, ඕනම කෙනෙකුට ඇවිත් බලන්න යැයි කියලා විවෘත කොට, විස්තර කොට, විභාග කොට පෙන්වන්න පුලුවන් දහමක්. ඒවා විස්තර කරනකොට, විවෘත කරනකොට බබළනවා මිසක්කා ඒකෙ දෝෂ මතුවෙන්නෑ. අද කාලෙ බලන්න, අද කාලෙ යම් දහමක් තියෙනවා නම් යම්කිසි ආගම් මතවාද ඒවා විස්තර කරගෙන යනකොට ඒවගේ වංහුං අහුවෙනවා. ඒකෙ දෝෂම අහුවෙනවා, වැරදිම අහුවෙනවා. බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ අකුරක් අකුරක් ගානෙ ශාසනයම බබළනවා. ඒහිපස්සිකෝ, ඇවිත් බලන්න කියලා කියන්න පුලුවන්. ඕපනයිකෝ, මේ දහම තියෙන්නේම තමාට ගලපලා බලන්නමයි. තමා තුළින්මයි දකින්න තියෙන්නෙ. ඊළඟට පච්චත්තං වේදිතබ්බෝ විඤ්ඤූහීහි, තම තම නැණ පමණින් අවබෝධ කරගන්න ඕන. පින්වත් දෙවිවරුනි, මෙසේ ස්වාක්ඛාත වූ ධර්මයක් දේශනා කරපු, මුල මැද අග පිරිසිදු, මේ වාගේ පිරිසිදු ධර්මයක් දේශනා කරපු ශාස්තෘන් වහන්සේ නමක්, අතීතයේ වත් දකින්න නෑ, වර්තමානයේත් අපේ බුදුරජාණන් වහන්සේ හැර තවත් කෙනෙක් දකින්න නැහැ. මේ වනාහි බුදුරජාණන් වහන්සේ තුළ තියෙන අපූරු සම්බුදු ගුණයක්. දිව්‍ය සභාවම සාදු නාදයෙන් ගිගුම් දුන්නා. ඊළඟට

දේශනා කරනවා සක්දෙව්ඳු, පින්වත් දෙවිවරුනි, මේ ද අහන්න. මේ කුසලයයි, මේ අකුසලයයි, ඊළඟට මේවා වැරදියි, මේවා හරි, ඉමේ ධම්මා සාවජ්ජා, ඉමේ ධම්මා අනවජ්ජා ඉමේ ධම්මා සේවිතබ්බා ඉමේ ධම්මා අසේවිතබ්බා, මෙය සේවනය කළ යුතුයි. මෙය සේවනය නොකළ යුතුයි. ඊළඟට මෙය පහත් දෙයක්, මෙය උසස් දෙයක්. ඊළඟට මේ සුදු පැහැ ගත් දෙයක් කියලා බුදුරජාණන් වහන්සේ කුසල් අකුසල් ධර්ම ගැන, සේවනය කළ යුතු දේ නොකළ යුතු දේ ගැන හීන ප්‍රණීත ධර්මයෝ ගැන, සුදු කළු මිශ්‍ර ධර්මයන් ගැන, මේ සෑම දෙයක් ගැනම බුදුරජාණන් වහන්සේ පැනෙව්වා, හරියටම හරි. බුදුරජාණන් වහන්සේ පැනෙව්වා. එතකොට කුසල් අකුසල් සේවනය කළ යුතු, නොකළ යුතු, යහපත් අයපහත් දේවල් කියලා දුන්නෙ බුදුරජාණන් වහන්සේ. මෙවැනි වූ ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේවත්, වර්තමානයේවත්, බුදුරජාණන් වහන්සේ හැර නම් නෑ. පින්වතුනි ඒ කාලෙ කුසල් අකුසල් ගැන අමුතු කතා තිබ්බා. ගංගා නම් ගඟේ ආරම්භයේ ඉඳලා අවසානය දක්වාම දාන දුන්නත් පින් රැස් වෙන් නෑ කියලා කිව්වා. ගංගා නම් ගඟේ ආරම්භයේ ඉඳලා අවසානය දක්වාම මනුෂ්‍යයො ඝාතනය කරගෙන ගියත් සිද්ධ වෙන පවක් සිද්ධ වෙන් නෑ. එතන සිද්ධ වෙන්නෙ සතර මහා ධාතූන් හරහා කඩුවක් යන එක විතරයි කියලා කිව්වා. ඊළඟට ඒ අය පව් කියලා සිහි කලේ, දැන් ඔන්න දානෙකට යනවා, දානෙට ගිහිල්ල මැස්සො ළඟ ඉද්දින් දෙන කෑම ගන්නෙ නෑ. මැස්සන්ට තිබ්බ ආහාරයක් අපි නිසා නැතිවුනා. ඒක අපෙන් සිද්ධ වෙච්චි පවක් කියලා ආහාර ගන්නෙ නෑ. ඊටපස්සෙ එතන බල්ලෙක් හිටියොත් දානෙ දෙන තැන ඒ ආහාර ගන් නෑ. එයා හිතනවා බල්ලට දෙන්න තමයි කෑම ටික තිබ්බෙ. ඒක අපි ගිය නිසා නැතිවුනා කියලා ගන්නෙ නෑ. ඊටපස්සෙ ගැබිණි මාතාවක් ළඟට ගිහිල්ලා දෙන ආහාරය ගන්නෑ. මේ ආහාරය මේ ගැබිණිය ගත්තා නම් කුසේ ඉන්න දරුවටත් ආහාරයක්. කුසේ ඉන්න දරුවට ආහාරයක් නැති කලා කියලා ගැබිණියක් දෙන දානෙ ගන්නෙ නෑ. මෙන්න පින් පව් ඒ කාලෙ තිබ්බ. ඊටපස්සෙ පින් කියලා හිතුවෙ හතර ගාතෙන් බිම වැටිලා ගවයන් වර්චස් කරන ඒවා කනවා නම්, ගවයෙක් විදියට බල්ලෙක් විදියට එළුවෙක් විදියට ඉන්නවා නම් ඒක තමයි මහා කුසල් කියලා ඒ අය කිව්වෙ. ඒ ලෝකෙ මේ කුසලය, මේ අකුසලය, මේක කරන්න, මේක නොකරන්න, මේක සේවනය කරන්න එපා, මේක සේවනය කරන්න කියලා මනාව පහදලා දුන්නෙ බුදුරජාණන් වහන්සේ, කුසල් අකුසල් ගැන. දැන් බටහිර රටවල්වල එකදිගට දෙමව්පියො මරණ ඒවා, දෙමව්පියො මැරෙන ඒවා. දැන් බලන්න මේ

කොරෝනා ප්‍රශ්නෙදි වුනත් තරුණ අය බේරගන්න ඕන කියලා වයසක අය අත්හැරියා. සමහර තරුණ අය බේරගන්න ඕන කියලා වයසක අය අත්හරිනවා කියන්නෙ තමන්ගෙ මව්, තමන්ගේ පියා. එතකොට මව පියාගෙ මරණයට වගකියන්න වෙනවා. ඊට්පස්සෙ මව දුක්විඳී, පියා දුක්විඳී කියලා ඉන්ජෙක්ෂන් ගහලා සැනසිල්ලේ මැරෙන්න කියලා නින්දෙන් මැරෙන්න හරිනවා. ඊළඟට බට ගහලා බට ගලවනවා. මේ ඔක්කෝම මව මැරීම, පියා මැරීමනෙ. එතකොට මව මැරුව, පියා මැරුව කෙනා කල්පයක් දුගතියේ යනවා, කල්පයක් මනුස්ස ලෝකෙට ආයෙ එන්නෙ නෑ. කල්පයක් නිරයේ, අවීචි මහා නරකාදියේ උපදින්නේ කියලා කවුද දන්නෙ බටහිර මිනිස්සු. ඒ මිනිස්සු මෝහයෙන් වැහිලානෙ. අපි ඉපදුනා නම් ඒ රටවල මොකක් වෙයිද. එහෙනම් අපි මේ පව් වලින් වළක්ව ගත්තේ කවුද, අපේ බුදුරජාණන් වහන්සේ. මේ පින් මේ පව්, ඊළඟට තමන්ගේ බිරිඳට, තමන්ගේ ස්වාමියාට ඉටුවිය යුතු යුතුකම්, ගරුත්වය ඒවා ඉෂ්ට කරන්න ඕන, ඒවා ඉක්මවා යාම පාපයක්, කවුද කියලා දුන්නෙ, බුදුරජාණන් වහන්සේනෙ. ඒවා සත්‍යම ඒවනෙ. බොරු ඒවද, උපකල්පනය කරපු ඒවද. එහෙම නෙවෙයි ඒක සත්‍යය නිසයි බුදුරජාණන් වහන්සේ වදාළේ. එහෙම සිද්ධ වෙන නිසයි බුදුරජාණන් වහන්සේ වදාළේ. බුදු කෙනෙක් පහළ නොවෙන්න හොඳ නරක, යහපත අයහපත නම් හිතාගන්නවත් බෑ. හිතාගන්නවත් බෑ. අපි මෙහෙම දවසක් වත් මෙහෙම බේරුනේ බුදු කෙනෙක් පහළ වෙච්චි නිසා. හොඳ නරක, කුසල් අකුසල්, සේවනය කළ යුතු නොකළ යුතු දේවල්, පහත් දේවල් උසස් දේවල් අපිට කියලා දුන්නෙ බුදුරජාණන් වහන්සේ. දැන් බලන්න අපිට දැන් දෙවිවරු දිව්‍ය ලෝකෙ කියනවා, පින්වත් දෙවිවරුනි, මේ කුසල් අකුසල්, හොඳ නරක, යහපත අයහපත, සේවනය කළ යුතු නොකළ යුතු දේ, සුදු කළු ධර්ම ගැන බුදුරජාණන් වහන්සේ තරම් මනාව දේශනා කරපු ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත් දකින්න නෑ. වර්තමානයේත් අපේ බුදුරජාණන් වහන්සේ හැර කිසි කෙනෙක් දකින්න නෑ. මේ වනාහි බුදුරජාණන් වහන්සේගේ අපමණ බුදුගුණ. මුළු දිව්‍ය සභාවම සාදු නාදයෙන් ගිගුම් දුන්නා. බුදුගුණයක් ගුණයක් ගානෙ දෙවිවරුන්ගේ පැහැය වෙනස් වෙනවා. බුදුගුණ වලින් සතුටු වෙනකොට සතුටු වෙනකොට තමන්ගේ පාට වෙනස් වෙනවා ඒ දෙවිවරුන්ගේ. දිව්‍ය සභාවම බැබළිලා ගියා. ඒ ධර්මය දේශනා කරන සක්දේවේන්ද්‍රයා මනාව බැබළී ගියා. ඊළඟට කියනවා පින්වත් දෙවිවරුනි, දැන් බුදුගුණ තුනක් කිව්වා. පළවෙනි එක තමයි, බොහෝ ජනයාට හිතසුව පිණිස පහළ වූ තවත් ශාස්තෘන් වහන්සේ නමක් නෑ බුදුරජාණන්

වහන්සේ තරම් අතීතයේ වත් වර්තමානයේ වත්. ඊළඟට ස්වාක්ඛාත වූ මෙවැනි ධර්මයක් දහම් ගුණ සහිත මෙවැනි වූ ධර්මයක් දේශනා කරපු ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේත් නෑ වර්තමානයෙත් නෑ. ඊළඟට තුන්වෙනි එක තමයි මේ සේවනය කළ යුතුයි මේ සේවනය නොකළ යුතුයි, මේ කුසල් මේ අකුසල්, මේ හීනයි මේ ප්‍රණීතයි, මේ සුදුය මේ කළුය කියලා මේ දහම් ගැන දේශනා කරපු තවත් ශාස්තෘන් වහන්සේ නමක් නෑ. හතරවෙනි කාරණාව ඒ භාග්‍යවතුන් වහන්සේ විසින් ශ්‍රාවකයන් හට නිවන කරා යන ප්‍රතිපදාව මැනැවින් දේශනා කලා. ඊළඟට නිවනත් ප්‍රතිපදාවත්, ප්‍රතිපදාවත් නිවනත් මනාව ගැලපිලා යනවා. යම් සේ ගංගා නදියේ ජලය යමුනා නදියේ ජලයට ගැලපී යයිද, සමවෙයිද, ඒ වාගේ ශ්‍රාවකයන් හට නිවන කරා යන ප්‍රතිපදාව බුදුරජාණන් වහන්සේ වදාළා. නිවන කරා යන ප්‍රතිපදාව නිවනට ගැලපෙනවා. නිවන ගැලපෙනවා ඒ ප්‍රතිපදාවට. ඉතින් මේ විදියේ ප්‍රතිපදාවයි නිවනයි මනාව පෑහිලා යන තවත් ශාසනයක්, තවත් ධර්මයක් නම් දේශනා කරපු ශාස්තෘන් වහන්සේ නමක් නම් අතීතයේවත් වර්තමානයේවත් බුදුරජාණන් වහන්සේ හැර නම් නෑ කිව්වා. දැන් ඒ කාලෙ හිටියා වෙන ශාස්තෘවරු. ඊටපස්සෙ කිව්වා නිවන් දකින්න ඕන නම් උදේ පාන්දරම නැගිටලා හිස හැරුණු පැත්තකට හැරිලා පලයල්ලා. ප්‍රපාතෙකට වැටුනොත් නිවන් දකිනවා. ගහක හැප්පිලා වැටුනොත් නිවන් දකිනවා. වලක වැටුනොත් නිවන් දකිනවා. ගවර වලක වැටුනොත් නිවන් දකිනවා කියලා. ඉතින් ඒ වාගේ ගියා. ඒ කාලෙ සම්මා සම්බුදුයි කියලා ප්‍රතිඥා දුන්න අය නියම් ගම් හරහා යනවා. ගිහිල්ලා අහනවා පින්වත අහවල් ගමට යන්නෙ කොහෙද, ඊටපස්සෙ ඔබගේ නම මොකක්ද, කින්ද මන්ද හැම දෙයක්ම අහනවා. ඊටපස්සෙ බල්ලො අරහෙ පන්නගෙන එනකොට දුවනවා, වැටෙනවා. ඉතින් හිතන්නෙ හැමදෙයක්ම දන්නවා කියලා. ඉතින් මිනිස්සු ඒ අයගෙන් අහනවා හැමදෙයක්ම දන්නවා නම් ගම්වලට යන පාරවල් මොකටද අහන්නෙ. හැමදෙයක්ම දන්නවා නම් මගෙ නම මොකටද අහන්නෙ. හැමදෙයක්ම දන්නවා නම් බල්ලො පන්නනකොට ඇයි දුවන්නෙ. ඉතින් අහනකොට උත්තර නැතිවෙලා යනවා. එයාලා කියන්නෙ එකක්, තේරෙන්නෙ එකක්. එයාලගේ ජීවිතේ හාත්පසින් වෙනස්. ඔය වාගේ මහා විගඩම් තිබ්බ, දෘෂ්ටි ජාලා තිබ්බ ලෝකෙක තමයි බුදුරජාණන් වහන්සේ සුන්දර වූ ආර්ය අෂ්ටාංගික මාර්ගය දේශනා කලේ, ලොව්තුරා සම්බුදු බවට පත්වෙලා. ඉතින් උන්වහන්සේ ආර්ය අෂ්ටාංගික මාර්ගය, සත්තිස් මහා බෝධි පාක්ෂික ධර්මයෝ දේශනා කලා අමා මහ නිවන්

මඟ විදියට. ඉතින් ඒ නිවන් මාර්ගය සුන්දරයි, ගාම්භීරයි, පිවිතුරුයි. ඉතින් ඒ වාගේ නිවනත් ගාම්භීරයි, සුන්දරයි, පිවිතුරුයි. ප්‍රතිපදාවට නිවන ගැලපෙනවා. ඒ ප්‍රතිපදාවෙන්මයි රාග, ද්වේෂ මෝහ ක්ෂය වෙන්නෙ. රාග, ද්වේෂ, මෝහ ක්ෂය වීමම තමයි අමා මහ නිවන. එතකොට මේ වගේ ගංගා නම් ගඟේ වතුර යමුනා නදියත් එක්ක පෑහිලා යනවා වගේ. ගංගා නම් ගඟේ වතුර යමුනා නදියත් එක්ක පෑහිලා යනවා වගේ නිවනේ ප්‍රතිපදාව නිවනත් එක්ක පෑහිලා යනවා. හරියට පෑහෙනවා. පරස්පර විරෝධී නෑ. මේ විදියට ධර්මය දේශනා කරපු වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත් වර්තමානයේ වත් මම නම් දකින් නෑ කියලා සක්දෙවිඳු සුධර්මා දිව්‍ය සභාවේ දහම් දෙසනවා. දෙවිවරු ප්‍රීති ඝෝෂා කලා. සාදුනදින් ගිගුම් දුන්නා. ඊළඟට පස්වෙනි කාරණාව කියනවා, පින්වත් දෙවිවරුනි මේද අහන්න. ලාභ සත්කාර බුදුරජාණන් වහන්සේට තරම් ලාභ සත්කාර, කීර්ති ප්‍රශංසා ලැබෙන තවත් කෙනෙක් නෑ. හැබැයි ඒ ලාභ සත්කාර, කීර්ති ප්‍රශංසා, රජ සිටු මැතිවරුන්ගෙන් ලැබෙනවා. ඉතින් ඒ වාගේ ලෝකයා ලාභ සත්කාර කීර්ති ප්‍රශංසා වලට ඇලෙද්දී භාග්‍යවතුන් වහන්සේ විසින් ප්‍රහාණය කරන ලද මත්වීමෙන් යුතුව දන් වළඳන සේක. බුදුරජාණන් වහන්සේට ප්‍රහාණය කරන ලද මත්වීමෙන් යුතුව දන් වළඳන මේ ගුණයෙන් යුක්තව වාසය කරන මේ ගුණය අතීතයේ හෝ වර්තමානයේ හෝ බුදුරජාණන් වහන්සේගෙන් තොරව නම් මා දකින්නේ නෑ. ඒ කියන්නෙ පින්වතුනි බුදුරජාණන් වහන්සේට බොහෝ ලාභ සත්කාර, කීර්ති ප්‍රශංසා ඉපදුනා. ඒ නිසා බුදුරජාණන් වහන්සේට දානෙ පූජා කරනවා රජ සිටු මැතිවරු. වැඩිය ඕන නෑ අසදෘශ මහා දානය, ඒ සඟ පිරිසට, පන්සීයක් සංඝයාට ඇත්තු කුඩ ඉසලනවා. ඊළඟට පන්සීයක් කන්‍යාවො ළඟ සඳුන් කල්ක අඹරනවා. සුවඳ එන්න දාන ශාලාවට. පන්සීයක් කන්‍යාවො චාමරයෙන් පවන් සලනවා. ඊළඟට මෙහෙ පන්සීයක් දාන භාජන වලින් රජවරු දන් බෙදනවා. ඊළඟට මේ විදියට, ඒ අනේකප්‍රකාර, එතකොට ඒ කිසිවකදී බුදුරජාණන් වහන්සේට උදම් ඇනීමක් නෑ. ඒ ලාභ සත්කාර වලින් යටවීමක් නෑ බුදුරජාණන් වහන්සේට. බුදුරජාණන් වහන්සේ කසීභාරද්වාජගෙ කුඹුරට ගිහිල්ලා වැඩලා එතන දානෙ නොලබා වඩිනකොට යම් හිතක්ද තියෙන්නෙ, අසදෘශ මහා දානෙට වැඩලා එනකොටත් ඒ හිතමයි. ඒ හිතමයි. ඊළඟට දෙවියන් විසින් දානෙ පූජා කරනකොටත් බුදුරජාණන් වහන්සේ දුගී පැල්පතේ පිළුණු පිට්ටු වළඳනකොටත් ඒ හිත ඒ විදියමයි. මත්වෙන් නෑ. ලාභ සත්කාරයෙන් මත් වෙන් නෑ. ඉතින් ලාභ සත්කාරයෙන් මත් නොවී දන් වළඳන මෙවැනි වූ ශාස්තෘන්

වහන්සේ නමක් අතීතයේ වත් වර්තමානයේ වත් ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස ඔබවහන්සේ හැර මම නම් නොදකිමි. අපට නම් දකින්න නෑ දෙවිවරුනි ඒ වගේ දෙයක්. සුධර්මා දිව්‍ය සභාවම සාදු නාදයෙන් ගිගුම් දුන්නා. පඤ්චසික දැන් කියනවා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, සක්දෙවිඳු හයවෙනි බුදුගුණය ද කියන්න ගත්තා. ඒ තමයි ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ හික්මීමට පිළිපන් සේඛ ශ්‍රාවකයෝද, බඹසර වැස නිමකල රහතන් වහන්සේලාද පිරිවරාගෙන වැඩ සිටිනවා. ඒත් භාග්‍යවතුන් වහන්සේ ඔවුන් සිතින් බැහැර කරලා හුදෙකලා බවේ ඇලුනු සිතින් වාසය කරන්නෙ. මෙසේ ශ්‍රාවක පිරිස් මැද හුදෙකලා බවින් ඇසුරු කරන ගුණයෙන් යුතු තවත් ශාස්තෘන් වහන්සේ නමක් නම් නෑ බුදුරජාණන් වහන්සේ ශ්‍රාවකයන්ට ඇලිලා නෑ. බුදුරජාණන් වහන්සේ ශ්‍රාවකයන්ට ඇලිලා නෑ කියන එක ප්‍රකට වෙන තැනක් කියන්නම්. පිරිනිවන් පාපු වෙලාව. මේ මුළු බුද්ධ ශාසනයම ඉදිරියට ගෙනියන්නෙ කවුද, මහා කාශ්‍යප මහරහතන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ මොහොතක් වත් මහා කාශ්‍යපයන් කෝ  කියලා ඇහුවද? ඒ වෙලාවේ මහා කාශ්‍යප මහරහතන් වහන්සේ ඈත වනයේ නිරෝධ සමාපත්තියට සමවැදිලා. යම් මොහොතක බුදුරජාණන් වහන්සේ කස්සප කෝ කියලා සිහි කලොත් එහෙම ඒ කස්සප මහරහතන් වහන්සේගේ නිරෝධ සමාපත්තිය නැතිවෙනවා. ශාස්තෘන් වහන්සේගේ සිහි කරපු ගමන් ඒ ශ්‍රාවකයාගේ පැමිණීම, නිරෝධය නැතිවෙනවා, නිරෝධ සමාපත්තිය. එහෙමවත් සිහි කලේ නෑ. නොඇලුනා. ආනන්දයන් වහන්සේට කිව්වද කස්සපට කියන්න ඉදිරියට මේ ශාසනය පවත්වගෙන යන්න මෙහෙමයි මෙහෙමයි කියලා. මොකවත් නෑ. මහා සඟ පිරිසක් පිරිවරාගෙන වැඩ සිටිය බුදුරජාණන් වහන්සේ ඒකදහස් දෙසීය පණහක් නික්ලේශී මහරහතන් වහන්සේලා පිරිවරාගෙන වැඩිය බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පානකොට ඒ අවට ගං වල හිටපු සඟ පිරිස පන්සීයක් පිරිවරාගත්තෙ. උන්වහන්සේ පිරිනිවන් වඩින ගමනේ වතුර පොදක් වත් අරන් ගියෙ නෑ. පිපාසිතෝම්හි ආනන්ද පානීයං ආහාර, මට පිපාසයි ආනන්ද පැන් ටිකක් අරගෙන එන්න. උන්වහන්සේ පිරිනිවන් වඩින ගමනේ සිවුර දෙපට බිම අතුරලා ඒ තැන් තැන් වල කීගමනක් නම් කලන්තෙ හැදුනද මගේ බුදුරජාණන් වහන්සේට. ගොඩාක් කලන්තෙ හැදුනා. එච්චර කය ගොඩාක් දුර්වල වෙලා ගියා. ඉතින් බුදුරජාණන් වහන්සේට මට මෙහෙම ශ්‍රාවකයො ඉන්නවා, එහෙම නෑ. ඉතින් පාරිලෙය්‍ය වනයට ගිහිල්ලා උන්වහන්සේ අර ඇතා පළතුරු ගෙනල්ලා පූජා කරනකොටයි, ආනන්ද ස්වාමීන් වහන්සේ උපස්ථාන

කරනකොටයි බුදු හිතේ වෙනසක් නෑ. සේඛ, අසේඛ මහා සඟරුවනක් පිරිවරාගෙන ප්‍රඥාවෙන් අග්‍රප්‍රාප්ත සාරිපුත්තයන් වහන්සේ ළඟ සිටිද්දි, ඉර හඳ අතගාලා මහපොළොවෙ පෙරලන්න තරම් ඍද්ධි ඇති මුගලන් මහරහතන් වහන්සේ ළඟ ඉඳිද්දි, තියන විරාගීව තියන පියවරෙන් මිහිමඬල සෙල්ලෙන මහා කාශ්‍යපයන් වහන්සේ ළඟ ඉඳිද්දි, කල්පයක් පවතින තේජස තියෙන යක්ෂයන්ගේ දාඩිය දාන්න තරම් නම ඇසූ පමණින් බිය හිතෙන අංගුලිමාලයන් වහන්සේ ළඟ ඉඳිද්දි දුටු දුටුවන්ගේ නෙත් සිත් සනහන මුව මඩලක් ඇති මිහිර ලෙස කතා කරන ආනන්දයන් වහන්සේ ළඟ සිටිද්දී, අනවතප්ත විලෙන් පැන් ගේන සුමන සාමණේරයන් වහන්සේ ළඟ ඉඳිද්දි මට මේ වාගේ සඟ පිරිසක් ඉන්නවානෙ කියලා හිතෙන්නෙවත් නෑනෙ. බුදුරජාණන් වහන්සේ බුද්ධ කෘත්‍යය කරනවා, අන් අයට නිවන් ලබා දෙනවා. එච්චරයි. මේ වගේ ශ්‍රාවකයන්ට නොඇලුනු ශාස්තෘන් වහන්සේ නමක් පින්වත් දෙවිවරුනි, අතීතයේ හෝ වර්තමානයේ හෝ වෙන කෙනෙක් නම් අපේ බුදුරජාණන් වහන්සේ හැර දකින්න නම් නෑ. දිව්‍ය සභාව, සුධර්මා දිව්‍ය සභාව සාදු නාදයෙන් ගිගුම් දුන්නා. ඊළඟට කියනවා හත්වෙනි බුදුගුණය. පින්වත් දෙවිවරුනි, ඒ භාග්‍යවතුන් වහන්සේ වනාහි යම් අයුරකින් වදාරන සේක්ද, ඒ අයුරින්ම කරන සේක. යථාවාදී තථාකාරී. තථාවාදී යථාකාරී. මේ වාගේ ශාස්තෘන් වහන්සේ නමක් නම් අතීතයේ වත්, වර්තමානයේ වත් බුදුරජාණන් වහන්සේ හැර නම් නෑ. බුදුරජාණන් වහන්සේ අපිට සතර සතිපට්ඨාන, සතර සම්‍යප්‍රධාන වීර්යය, සතර ඍද්ධිපාද ඊළඟට පඤ්ච ඉන්ද්‍රිය, පඤ්ච බල, සප්ත බොජ්ඣංග, ආර්ය අෂ්ටාංගික මාර්ගය, සත්තිස් බෝධිපාක්ෂික ධර්මය වදාළා. ඒවා බුදුරජාණන් වහන්සේ නොකරපු ඒවද. සියල්ලම කරපු ඒවා. යමක් කළාද, එයයි කීවෙ. ඊළඟට මේ බුද්ධ ශාසනයේ තියෙනවා යම්තාක් වැඩපිළිවෙල්. ඒ වැඩ පිළිවෙල ඔක්කොම බුදුරජාණන් වහන්සේ කරපු ඒවා නෙවෙයි ද. මේ මුළු බුද්ධ ශාසනයම යථාවාදී තථාකාරී, තථාවාදී යථාකාරී. කරපු දෙයක්මයි මේ දේශනා කරලා තියෙන්නෙ. දේශනා කරපු දේවල්මයි බුදුරජාණන් වහන්සේ කරලා තියෙන්නෙ. පුදුම සහගතයි, බුදුරජාණන් වහන්සේ යමක් කිව්වොත් ඒක කරනවා. කරන දේ කියනවා. වැඩිය ඕන නෑ පින්වත් මහණෙනි, තුන්සිවුරෙන් වාසය කරන්න කියලා කියන වාක්‍යය පවා එදා බුදුරජාණන් වහන්සේ සංඝයාට චීවර අනුදැන වදාරන්න ඕන කියලා, සීතල ඇති කාලයේ දවස් අටක් හිම වැටෙන කාලයේ මහා වනයේ උන්වහන්සේ වැඩ හිටියා. සවස් කාලෙ වෙනකොට උන්වහන්සේ අඳනෙ පිටින් උන්වහන්සේ

ගොඩාක් වෙලා සක්මන් කලා, සිවුර අයින් කරලා. රාත්‍රිය වෙනකොට ඇඟට සීතලයි. ඊටපස්සෙ උන්වහන්සේ තව සිවුරක් පොරව ගත්තා. ඊටපස්සෙ තව රාත්‍රිය වෙනකොට තව සීතලයි. තව සිවුරක් පොරව ගත්තා. තව රාත්‍රිය වෙනකොට තව සීතලයි, තව සිවුරක් පොරවගත්තා. දැන් සිවුරු තුනක් පොරව ගත්තා. අඳනෙත් එක්ක හතරයි. ඊටපස්සෙ හතරවෙනි සිවුර පොරවගෙන සක්මන් කරනකොටම එළිවුනා. එතකොට බුදුරජාණන් වහන්සේ සිවුරු හතරක්, අඳනයයි, තව සිවුරු තුනයි. ඒ සිවුරු තුනෙන් එකක් තනිපට සිවුර විදියටයි, තව සිවුරු දෙකක් එකතු කරලා ඒක දෙපට සිවුර කියලා, අඳනෙයි තනිපට සිවුරයි දෙපට සිවුරයි ඕනම භික්ෂුවකට සෑහෙයි කියලා ප්‍රකාශයක් කලා. අනුදැන වදාළා. ඒක බුදුරජාණන් වහන්සේම කලානෙ, පුදුම සහගතයි. ඉතින් ඒ නිසා පින්වත්නි ඔය සාමාන්‍යයෙන් පුංචි දෙයක් කිව්වෙ. මේ නිවන් මාර්ගය, කුසල් දහම්, අකුසල් දහම්, යම්තාක් අකුසල්, යම්තාක් කෙලෙස්, යම්තාක් අනංග්‍රන ධර්මයෝ, යම්තාක් අනාස්‍රව ධර්මයෝ, යම්කිසි ඒ වගේම යම්තාක් උපක්ලේශ, යම්තාක් අනුසය බුදුරජාණන් වහන්සේ දේශනා කලාද ඒ සියල්ලම බුදුරජාණන් වහන්සේ ප්‍රහාණය කරපු ඒවා. යම්තාක් දුක ගැන කිව්වද, ඒ සියලු දුක් බුදුරජාණන් වහන්සේ අවබෝධ කරපු ඒවා. යම්තාක් නිවන ගැන කිව්වද, ඒ නිවන බුදුරජාණන් වහන්සේ ප්‍රත්‍යක්ෂ කරපු එකක්. යම්තාක් මාර්ගය ගැන වදාළාද, ඒ සියලු මාර්ගය බුදුරජාණන් වහන්සේ කරපු එකක්. යථාවාදී තථාකාරී, යථාකාරී තථාවාදී. මෙවැනි වූ ශාස්තෘන් වහන්සේ නමක් නම් අතීතයේ හෝ වර්තමානයේ හෝ බුදුරජාණන් වහන්සේ හැර දකින්න නෑ කියලා ප්‍රීතිඝෝෂා කලා. බුදුගුණ කියන්න ගත්තා. සුධර්මා දිව්‍ය සභාව සාදු නාදයෙන් ගිගුම් දුන්නා. පඤ්චසික කියනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස අටවෙනි ගුණය සක්දෙවිඳු කියා හිටියා. ඒ තමයි ස්වාමීනී ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ නිවන් මඟට මුල්වෙන කරුණු පිළිබඳව කිසීම සැකයක් නෑ. බුදුරජාණන් වහන්ස්ට නිවන් මාර්ගය පිළිබඳව සැකයක් නෑ. කෙසේද, කෙසේද කියලා සැකයක් නෑ. ඉතින් ඒ නිසා සැකය දුරු කරපු සිතින්, නිර්වාණ මාර්ගය පිළිබඳව සැකය දුරු කරපු මෙතරම්ව ඍජු සිතකින් වාසය කරන ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත් වර්තමානයේ වත් බුදුරජාණන් වහන්සේ හැර නම් දකින්න නෑ කියලා ප්‍රීතිඝෝෂා කලා. ඉතින් බුදුරජාණන් වහන්සේට නිවන් මාර්ගය ගැන සැකයක් තියෙනවාද. දවසක් බ්‍රාහ්මණයෙක් අහනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ඔබ වහන්සේට බ්‍රහ්ම ලෝකයේ යන හැටි කියන්න පුලුවන්ද. ඊටපස්සෙ කියනවා බ්‍රාහ්මණ, ඔබගේ ගම කොහෙද?

ඊටපස්සෙ කියනවා මගේ ගම රජගහනුවර. ඊටපස්සෙ කියනවා ඔබට රජගහනුවර ඉඳලා සැවැත් නුවරට එන්න පාර කියන්න පුළුවන් ද? ස්වාමීනී මට පාර කියන්න පුලුවන්. හැබැයි බ්‍රාහ්මණය ඔබට රජගහනුවර ඉඳලා ශ්‍රාවස්තියට එන පාර කියනකොට ඔබ නිතර යන එන පාර වැරදෙන්න පුලුවන්. ඒත් ශාස්තෘන් වහන්සේට බඹලොව ගැන කියනකොට වරදින්නෙ නෑ ඒ පාර. දෙව්ලොවට යන මග කියනකොට වරදින් නෑ. අමා මහ නිවන පිණිස තියෙන මාර්ගය වරදින් නෑ. බුදුරජාණන් වහන්සේමයි මග්ගකායි, මග්ගඤ්ඤෝ, මග්ගකෝවිදෝ, බුදුරජාණන් වහන්සේ තමයි මාර්ගයේ දක්ෂ. මාර්ගය කියන කෙනා. මාර්ගය අතිශයින්ම පැහැදිලා ඉන්න මාර්ගය මනාව දන්න උත්තමයා. ඒ නිසා බුදුරජාණන් වහන්සේට නිවන් මාර්ගය ගැන කිසිම සැකයක් නෑ. කිසිම සැකයක් නෑ. මිනිස්සුන්ට තමන්ගේ ගෙදර වරදිනවානෙ පින්වත්නි. නිකමට බලන්න, තමන්ගේ ගෙදර වරදිනවා. වාහනයක යනකොට ගෙදෙට්ට යන හන්දිය පොඩ්ඩක් පහුකරලා ආයෙ වාහනය රිවස් කරගෙන එන අවස්ථා තියෙනවා. ඒ නිසා තමන්ගේ ගෙදරට යන පාර වරදිනවා මිනිස්සුන්ට. බුදුරජාණන් වහන්සේට අමා මහ නිවන පිළිබඳව පාර නම් සැකයක් නෑ. ඉතින් ඒ නිසා මේ බුදුගුණ අට. එතකොට දැන් බුදුගුණ අට ඔබට මතක ඇති, සක්දෙවිඳු සුධර්මා දිව්‍ය සභාවේ කියන ලද, ඒ තමයි බොහෝ ජනයාට හිතසුව පිණිස, බොහෝ දෙව්මිනිසුන්ට හිතසුව පිණිස, යහපත අනුකම්පාව පිණිස පහළ වූ වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් නම් නෑ, බුදුරජාණන් වහන්සේ තරම් අතීතයේ වත් වර්තමානයේ වත්. ඊළඟට ස්වාක්ඛාත වූ, සන්දිට්ඨික වූ, අකාලික වූ, ඒහිඑස්සික වූ, ඕපනයික වූ, පඤ්ඤත්තබ්බං වේදිතබ්පෝ විඤ්ඤූහි, ඒ ධර්මයේ ගුණ වලින් සෝභිත ධර්මයක් දේශනා කරපු ශාස්තෘන් වහන්සේ නමක්. අතීතයේවත් වර්තමානයේවත් බුදුරජාණන් වහන්සේ හැර නම් දකින්න නෑ. ඊළඟට මේ කුසල්ය, මේ අකුසල්ය, මේ සේවනය කළ යුතුයි, මේ සේවනය නොකළ යුතුයි, මේ යහපත්ය, මේ අයපහත් ය, මේ සුදු දේවල්, මේ කළු දේවල් ආදී වශයෙන් යහපත අයහපත ගැන මනාව පෙන්වා දුන් ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත් වර්තමානයේ වත් බුදුරජාණන් වහන්සේ හැර වෙන නම් නෑ. ඊළඟට පින්වත්නි, මේ තමයි නිවන් මාර්ගය, මේ තමයි නිවන පෙන්නලා දුන්නා බුදුරජාණන් වහන්සේ. නිර්වාණ මාර්ගය නිවනට පැහිලා යනවා. නිවනටම නිර්වාණ මාර්ගය පැහිලා යනවා. ගංගා නම් ගඟේ වතුර යමුනා නදියේ වතුර හා පෑහේද නිවන් මාර්ගය නිවන හා පැහිලා යනවා. මේ විදියට ප්‍රතිපදාව නිවන හා පැහිලා යන නිවනක් දේශනා කරපු පැහිලා යන

ප්‍රතිපදාවයි මාර්ගයයි නිවනට පෑහෙන වෙන ශාස්තෘන් වහන්සේ නමක් නම් මෙහෙම දේශනා කරලා නෑ බුදුරජාණන් වහන්සේ හැර. අතීතයේ වත් වර්තමානයේ වත් දකින්න නෑ. ඊළඟට පස්වෙනි බුදුගුණය විදියට සක්දෙවිඳු දේශනා කලා, භාග්‍යවත් බුදුරජාණන් වහන්සේට බොහෝ ලාභ සත්කාර, කීර්ති ප්‍රශංසා ඉපදෙනවා. රාජ රාජ මහමාත්‍යවරුන්ගේ පටන් බ්‍රහ්ම ලෝකය දක්වාම කීර්ති ඝෝෂාව පැතිරිලා සත්කාර උපදිනවා. ඒත් ඒ කිසිවකට නොඇලුනු සිතින් දන් වළඳන, මෙවැනි වූ ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත් වර්තමානයේ වත් බුදුරජාණන් වහන්සේ හැරුණු කොට නම් දකින්න නෑ. ඊළඟට දේශනා කලා සක්දෙවිඳු සුධර්මා දිව්‍ය සභාවේ, සේඛ අසේඛ ශ්‍රාවක සඟ ගණ පිරිවරාගෙන බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නවා. ඒ කිසිම සඟරුවනක් ගැන හිතේ ඇලීමක් නැතිව හුදෙකලාවේ බුදුරජාණන් වහන්සේ විවේකයෙන් හුදෙකලා සිතින් වාසය කරනවා. මෙවැනි වූ ශාස්තෘන් වහන්සේ නමක් තවත් නෑ බුදුරජාණන් වහන්සේ හැර අතීතයේවත් වර්තමානයේවත්. ඊළඟට බුදුරජාණන් වහන්සේ යථාවාදී තථාකාරී යථාකාරී තථාවාදී, කරන දේ කියන කියන දේ කරන වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත් වර්තමානයේවත් තවත් නම් දකින්න නෑ. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළ නිවන් මාර්ගය ගැන බුදුරජාණන් වහන්සේට කිසිම සැකයක් නෑ, සැකයක් නැතිව අමා මහ නිවන් මාර්ගය දේශනා කරපු වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත් වර්තමානයේ වත් බුදුරජාණන් වහන්සේ හැර නම් දකින්න ලැබෙන්නෙ නෑ කියලා ඉතින් සක්දෙවිඳු බුදුගුණ කිව්වා. බුදුගුණ කියනකොට අනිත් දෙවිවරු එක හඬින් සාදුකාරය පැවැත්වූවා, සුධර්මා දිව්‍ය සභාවෙ. ඉතින් දෙවිවරු කියනවා, අනේ මේවාගේ ගුණ තියෙන බුදුරජාණන් වහන්සේ නමක්, බුදුරජාණන් වහන්සේ මෙච්චර ගුණ තියෙනවා. අනේ සක්‍ර දේවේන්ද්‍රය - දැන් දෙවිවරු එක එක පාටින් බැබලෙන්න ගත්තා බුදුගුණ අහලා. කියනවා සක්‍ර දේවේන්ද්‍රය අනේ සතර නමක්, අනේ බුදුරජාණන් වහන්සේලා හතර නමක් මේ ලෝකෙට ඉන්නවා නම්, මේ දිසා හතරට. මේ ලෝකෙට බොහෝ යහපතක්. ආයෙ බලන්න දෙයක් නෑ. එතකොට තව දෙවි කෙනෙක් කිව්වා හතර දෙනෙක් ඕන නෑ, ඔය තරම් ගුණ සම්පන්න බුදුරජාණන් වහන්සේලා තුන් නමක් ඉන්නවා නම්, ඒ ඇති, ඒ ඇති මේ තුන් ලෝකෙටම. බුදුරජාණන් වහන්සේලා තුන් නමක් ඉන්නවා නම් මේ තුන් ලෝකෙටම ඔය ඇති කිව්වා. ඊටපස්සෙ තව දෙවිකෙනෙක් කිව්වා නෑ තුන් නමක් ඕන නෑ, දෙව් මිනිස්සුන්ට යහපත පිණිස බුදුවරු දෙනමක් ඉන්නවා නම් මේ ලෝකෙට මේක

මහා ශාන්තියක් කිව්වා. මහා සැනසිල්ලක් කිව්වා. එතකොට සක්දෙවිඳු දෙවිවරු ඇමතුවා. පින්වත් නිදුක්වරුණි, එක් ලෝක ධාතුවක සම්මා සම්බුදුරජාණන් වහන්සේලා දෙනමක් පෙර පසු නොවී පහළ වෙන් නෑ. එක ලෝක ධාතුවක එක බුදු කෙනයි පහළ වෙන්නෙ. ඒ නිසා පින්වත් දෙවිවරුනි, නුඹලා මෙහෙම හිතන්න. ඒක සිද්ධ වෙන්නෙ නැති දෙයක්, බුදුවරු දෙනමක් පහළ වෙනවා කියන එක. ලෝකෙ උතුම් දේවල් එකයි. ඒ නිසා වැඩ ඉන්න අපේ බුදුරජාණන් වහන්සේ නිදුක් නිරෝගීව බොහෝ කාලයක් වැඩ සිටිත්වා කියලා බුදුරජාණන් වහන්සේට දීර්ඝායුෂ පතන්න කිව්වා. ආන්න පින්වත්නි ස්වභාවය. බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා ඉතින් ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ නිදුක් නිරෝගීව බොහෝ කාලයක් වැඩ සිටිත්වා කියලා හිතන්න කිව්වා. ඉතින් අර දෙවිවරු එක හඬින් සාදුකාර දීලා ඒ අපගේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නිරෝගීව බොහෝ කාලයක් වැඩ සිටිත්වා කියලා දිව්‍ය සභාවේ ඒක නින්නාද කලා. එතකොට තමයි සමන්කුමාර බ්‍රහ්ම රාජයා ආකාසෙ ඒ මොහොතෙ පහළවුනා. සමන්කුමාර බ්‍රහ්මරාජයා ආවට පස්සෙ ඊළඟට මොකද වුනේ කියලා අපි ඊළඟට වැඩසටහනෙදි අහමු. ඉතින් ඒ නිසා බොහෝ දෙනාට හිතසුව පිණිස භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටින්නෙ. ඉතින් ඒ අසිරිමත් සම්බුදු ගුණ අටක් සක්දෙවිඳු වදාළා. ඒ සක්දෙවිඳුගේ මුවින් කියවුන අසිරිමත් සම්බුදු ගුණ අටෙන් විරාජමානව බබළන බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ශ්‍රී සද්ධර්මය සරණ යනවා, ආර්ය මහා සංඝරත්නය සරණ යනවා, අසිරිමත් සම්බුදු සරණින් ඔබේ ජීවිත සුවපත් වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් පින්වත්නි අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නෙ ඔස්ට්‍රේලියාවේ මෙලබර්න් නුවර පදිංචි පින්වත් සමන්තා විජේසිංහ මහත්මිය සහ ශ්‍රීමින්ද මානගේ මහත්මයා විසින්. ඉතින් ඒ නිසා මේ පින්වතුන්ට අපි පින් අනුමෝදන් කරමු. භාග්‍යවත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් සම්බුදු ගුණ අටක් අපි කතා කලා. ඒ උතුම් සම්බුදු ගුණ අටේ ආනුභාවයෙන් අනන්ත සම්බුදු ගුණ වල ආනුභාවයෙන් අපේ මව් රටටත් ලෝකයටත් සියලු යහපත රැකවරණය වේවා. නිදුක් නිරෝගීව බියක් සැකක් නැතිව මනුස්ස වර්ගයාට ජීවත් වෙන්න බුද්ධානුභාවයෙන් ආශිර්වාද වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම සියලුම දෙවිවරුන්ට මේ පින් අනුමෝදන් කරනවා. විශේෂයෙන් සක්දෙවිඳුන්ට, පඤ්චසික දෙවියන්ට, සතරවරම් දෙවියන්ට, සමන්කුමාර බ්‍රහ්මරාජයා ඇතුළු දිව්‍ය සභාවේ සියලු

දෙවිවරුන්ට පින් අනුමෝදන් වේවා. ඒ වගේම සියලුම දෙවිවරුන් මේ පින් අනුමෝදන් වෙලා සියලු දෙනා ආරක්ෂා කරත්වා. මිය පරලොව ගිය එච්.ඩී. විජේසිංහ මහත්මයාට සහා ආර්.මානගේ මහත්මයාට මේ පින් අනුමෝදන් වේවා. මේ පින් අනුමෝදන් වෙලා ඒ සියලු දෙනාට පරලොව සැපයම සැලසේවා කියලා පින් පමුණුවනවා. පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ උතුම් නිවන් මාර්ගය අපිට මේ විදියට කියලා දුන්නා. ඇත්තටම අපේ ජීවිතයට බොහෝ යහපත පිණිස කටයුතු කලේ අපේ ලොකු ස්වාමීන් වහන්සේ. ඒ නිසා ඔයාලා පුරුදු වෙන්න නිතරම, අර එක හාමුදුරු නමකුත් කියලා තිබුනෙ, ලොකු ස්වාමීන් වහන්සේ වගේ හතර නමක් පහළ වෙනවා නම් තව ඇති කියලා. එහෙම පහළ වෙන් නෑ. අපිට තියෙන්නෙ ඉන්න උතුම් කෙනා බොහෝ කාලයක් නිදුක් නිරෝගීව දීර්ඝායුෂව වැඩ සිටිත්වා කියලා හිතන එකයි. ඒ නිසා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලු ස්වාමීන් වහන්සේලාත්, අනගාරිකා මෑණිවරු, පැවිදි අපේක්ෂක දූපුතුන් ගෞතම සසුනේ පිහිට ලබත්වා. ඒ වගේම අප්‍රේල් 24 වන දින 11 වෙනි ජන්මදිනය සැමරූ ලක්වින් මානගේ පුතණුවන්ට ඒකාන්තයෙන්ම මේ පින් අනුමෝදන් වෙලා ඒ දරුවට ගෞතම බුද්ධ ශාසනයේ සියලු යහපත රැකවරණය ආරක්ෂාව සැලසේවා. ඒ වගේම මේ රැස් කරන සියලුම පුණ්‍ය ධර්මයන් ඒකාන්තයෙන් අනුමෝදන් වේවා රනුකි මානගේ දියණියට සහ සුජීවත්ව සිටින මෑණියන් දෙදෙනාට ආශිර්වාද කරනවා. රනුකි මානගේ දියණියට නිදුක් නිරෝගී වේවා, ඒ වාගේම මෑණියන්, පවුලේ සහෝදර සහෝදරියන්, ඇතුළු පවුලේ සියලු දෙනාට සෙත් වේවා, සමන්තා විජේසිංහ මහත්මිය ශ්‍රීමින්ද මානගේ මහත්මයා, ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර, ඒ සියලු දෙනාට ගෞතම බුද්ධ ශාසනයේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු ගුණයේ ආනුභාවයෙන් සිත් පහදවාගෙන බුදු සසුනේ පිහිට පිළිසරණ ලබන්න, සත්පුරුෂ ඇසුර ලබාගන්න මේ ධර්ම දාන පින හේතු වාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. අපගේ මව්දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් වේවා. ඒ වගේම ලක්විරු ගුවන්විදුලියේ, ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ, ඒ වගේම දායකත්ව දරන පින්වතුන් ඇතුලු සියලු දෙනාට පින් සිදු වේවා. අපි කාටත් ගෞතම බුද්ධ ශාසනයේ අසිරිමත් සම්බුදු සරණේ සැනසී දුකින් නිදහස් වෙන්න මේ පින් හේතුවාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=QT-cpNB57CI&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=52

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහනේ අද දින දායකත්වය දරන්නේ වෛද්‍ය ආසිරි අතපත්තු මහත්මයා, චූලාංගනී නවරත්න මහත්මිය සහ සිනෙලි දෙව්දිණි දියණිය විසින්. ඉතින් මේ පින්වතුන් අද දවසේ විශාල පුණ්‍ය ධර්මයක්, පුණ්‍ය ස්කන්ධයක් ධර්ම දානමය වශයෙන් රැස් කරගන්නවා. බොහෝ දෙනාට ගෞතම සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් බුදුගුණ කඳ ධර්මයේ වටිනාකම, ආර්ය සංඝයාගේ ආනුභාවය මේ උතුම් තිසරණය තුළ අන් අය පිහිටුවන්න මේ ධර්ම දානය දීමේ පිනෙන් රැස් වෙන අප්‍රමාණ යහපත ඔබට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා. ඉතින් ඒ නිසා මූලික වශයෙන්ම පින් අනුමෝදන් කරනවා මේ උතුම් ධර්ම දානයෙන් ඔබගේ ජීවිතය සුවපත් වේවා කියලා. ඉතින් අද දවසේ අපි අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු ගුණ අටක් සහ පෙර ජීවිත විස්තරයක් තියෙන සූත්‍ර දේශනාවක් තමයි කතා කරන්නෙ. දීඝ නිකායේ මහා ගෝවින්ද සූත්‍රය. එතකොට වෙන ජීවිත කතා, ජාතක කොටසෙනේ තියෙන්නෙ. මේක තියෙන්නෙ සූත්‍ර කොටසේ. එතකොට අපි මීට කලින් කතා

කලා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ගිජ්ජකූටයේ වැඩ ඉන්නකොට පඤ්චසික දිව්‍ය පුත්‍රයා ඇවිල්ලා තමයි දිව්‍ය ලෝකයේ වෙච්ච් සිද්ධිය කියන්නෙ. ඒ දිව්‍ය ලෝකෙ දෙවිවරු හරියට සතුටු වෙනවා අලුතින් දෙවිවරු ඉපදෙන එක ගැන. ඒ වගේම දෙවිවරු ඒකට ප්‍රීතියට පත්වෙනවා. ඊටපස්සෙ සක්දෙවිඳු සුධර්මා දිව්‍ය සභාවේ අසුන් ගෙන අනිත් දෙවිවරුන්ට බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් බුදුගුණ අටක් කියලා දුන්නා. ඉතින් මෙහෙම දෙවිවරු සන්තෝෂයට පත්වෙලා තම තමන්ගේ ආසන වල, දැන් මේ බුදුගුණ කියනකොට හිටගෙන සාදුකාර දීලා තියෙනවා. ආයෙ තම තමන්ගේ අසුන් වල ඉඳගෙන අර බුදු ගුණ හිතලා පැහැයෙන් බැබලී බැබලී ඉන්නකොට උතුරු දිශාවේ, ඔන්න අද ඉතුරු කොටස අපි කතා කරන්නෙ. උතුරු දිශාවෙන් විශාල ආලෝකයක් පහළ වුනා. උතුරු දිශාවෙන් ආලෝකයක් පහළ වෙලා, ශක්‍ර දේවේන්ද්‍රයා සහිත දෙවිවරු පුදුමයට පත්වුනා. විශාල ආලෝකයක්. දැන් අපිට විශාල ආලෝකයක් පහළ වුනොත් හිතාගන්න බැරි. ඒ වගේමයි දිව්‍ය ලෝකෙත්. ඒ දෙවිවරුන්ටවත් හිතාගන්න බැරිවුනා ඒ ආලෝකය. හිරුමඬලක් වගේ. ඊටපස්සෙ සක්දෙවිඳු දෙවියන්ට කතා කරලා කිව්වා නිදුක්වරුනි, යම්සේ නිමිති දකින්න ලැබෙනවා. උදාර ආලෝකයක් එළියක් පහළ වෙනවා නම් ඒ වෙලාවට බ්‍රහ්මයා පහළ වෙනවා කියන එක තමයි නිමිත්ත. ඒ නිසා මේ විශාල ආලෝකයක් පහළ වුනේ, අනිවාර්යයෙන් දැන් බ්‍රහ්මයා මේ දිව්‍ය සභාවට සම්ප්‍රාප්ත වෙනවා කිව්වා. ඊටපස්සෙ එළිය ගැන, දැන් විශාල ආලෝකයක් පහළ වුනානෙ. ඒ ආලෝකය ගැන දැන් දෙවිවරු කල්පනා කරනවා. මොකක්ද කල්පනා කරන්නෙ, සතර වරම් දෙවිවරු කල්පනා කරනවා, මේ එළියෙන් පහළ වුනු මහාබ්‍රහ්මරාජයා අපේ අසුන් වල ඉඳගන්නවා නම්, ඒ වගේම මේ පහළවුනු දිව්‍යරාජයා, ඉස්සෙල්ලාම හිතුවා මේ පහළ වුනු බ්‍රහ්මරාජයා කවුද පහළ වුනේ, මොකටද පහළ වුනේ, කියලා අපි මේක පොඩ්ඩක් බලලම යං. දැන් දිව්‍ය සභාවේ ධර්ම දේශනාව අවසන්. එතකොට තමයි මේ ආලෝකය පහළ වුනේ. අපි බලලම යමු කියලා දැන් හිත බොහෝම එක තැනකට අරන් සන්සිඳිලා අර දිව්‍ය ආලෝකය, බ්‍රහ්ම ආලෝකය දිහා බලාගෙන හිටියා. එතකොට ඒ තුළින් සනංකුමාර බ්‍රහ්ම රාජයා ගොරෝසු ආත්මභාවයක් මවාගෙන තව්තිසා දෙවියන් අතර පහළ වුනා. ඒ බ්‍රහ්ම රාජයා සියලු දෙවියන් අතර බබළනවා. එතකොට බ්‍රහ්මයන්ගේ පැහය, වර්ණය, ලස්සන කොහොම එක්ක වෙන්න ඇතිද, සියලු දෙවියන් අතර බබලනවා. ඊටපස්සෙ සනංකුමාර බ්‍රහ්මරාජයා අනිත් සියලු දෙවියන් අතරින් වර්ණින් යසසින් බබළනවා. සනංකුමාර බ්‍රහ්ම

තෙමේ තව්තිසා දෙවියන් අතර පහළ විනි නම් එකල්හි ඒ පිරිසේ කිසිදු දෙවියෙක් ඔහුට නොවඳී. වඳින්නෑ, දැක හුනස්නෙන් නොනැගිට්ටියි, ළඟට නොයයි. අසුනෙන් නොපවරයි, සියල්ලෝම නිහඬව ඇඟිලි බැඳ වැඳගෙන ඉඳගෙන සිටිති. දැන් සනංකුමාර බ්‍රහ්මරාජයා යම් දෙවි කෙනෙකුගේ අසුනේ හිඳගනු කැමැති වන්නේ ද ඒ දෙවියාගේ අසුනේ ඉඳගන්නේ යැයි සිතා, කාගෙහරි ආසනයක ඉඳගන්න කැමැති නම් ඉඳගනීනෙ කියලා කව්රුහරි එහෙම හිඳගත්තොත් කාගෙහරි ආසනයක ඒ බ්‍රහ්මරාජයා ඉඳගත්තා කියලා ඒ දෙවියා ගොඩාක් සතුටට පත්වෙනවා. ඔටුනු පළන් රජ කෙනෙක් සතුටු වෙනවා වගේ. ඉතින් ස්වාමීනී සනංකුමාර බ්‍රහ්මරාජයා එකල්හි උදාර වූ සතුටක් ලබනවානෙ දෙවියො අතර. ඊටපස්සෙ සනංකුමාර බ්‍රහ්මරාජයා දෙවියන්ගේ ප්‍රසාදය දැන් නොපෙනී හිඳ මෙන්න මේ ගාථාව වදාළා. මෙන්න මේ ගාථාව කිව්වා කියනවා සනංකුමාර බ්‍රහ්මරාජයා නොපෙනී ඉඳලා කිව්වෙ. මෝදන්ති වත භෝ දේවා තාවතිංසා සහින්දකා තථාගතං නමස්සන්තා ධම්මස්සච සුධම්මතං, සතුටින් කියනවා ඒ බ්‍රහ්මරාජයා, දෙවියන් සක්දෙවිඳු සහිත සියලු දෙවිවරු ඉතාමත් සතුටට පත්වෙනවා කියනවා බුදුරජාණන් වහන්සේට වැඳ වැඳ, ධර්මයට වැඳ වැඳ. නවේ දේවේච පස්සන්තා වණ්ණවන්තේ යසස්සිනේ සුගතස්මිං බ්‍රහ්මචරියං චරිත්වාන ඉධාගතේ, අලුතෙන් ඉපදුනු දෙවිවරු බුදුරජාණන් වහන්සේ සරණ ගිය, බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පින් කරගත්ත දෙවිවරු අනිත් දෙවිවරුන්ට වැඩිය බබළනවා කියනවා. තේ අඤ්ඤේ අතිරෝචන්ති වණ්ණේන යසසායුනා සාවකා භූරිපඤ්ඤස්ස විසේසූපගතා ඉධ, වර්ණයෙන් ඊළඟට බැබළීමෙන් ආයුෂයෙන් අනිත් අය ඉක්මවා බබළනවා කියනවා භූරිපඤ්ඤ වූ තථාගතයන් වහන්සේගේ ශාසනයේ පිහිට ලබපු අය. ඉධං දිස්වාන නන්දංති තාවතිංසා සහින්දකා තථාගතං නමස්සන්තා ධම්මස්සච සුධම්මතන්ති, ඉතින් ඉන්ද්‍රයා සහිත, සක්දෙවිඳු සහිත මේ දෙවිවරු බුදුරජාණන් වහන්සේටත්, ධර්මයටත්, පිළිසරණටත් වැඳ වැඳ සතුටු වෙනවා නේද, කියලා සනංකුමාර බ්‍රහ්මරාජයාත් සක්දෙවිඳු මුලින්ම කියපු ගාථා ටිකම කියනවා. ඊටපස්සෙ පඤ්චසික බුදුරජාණන් වහන්සේට කියා සිටිනවා, ස්වාමීනී, ඔය සනංකුමාර බ්‍රහ්මරාජයා මේ කාරණාව පවසලා බ්‍රහ්මයාගේ අංග අටකින් යුක්ත හඬින් කතා කලා. බ්‍රහ්ම ස්වරයෙන්. මොකක්ද ඒ අංග අට බ්‍රහ්ම ස්වරයේ තියෙන. සුවසේ වචන නික්මෙනවා. අරුත් පැහැදිලියි. මියුරුයි. කණට සුව එළවනවා. හඬ එකට කැටි වෙලා තියෙන්නෙ, විසිරෙන් නෑ. ගැඹුරුයි. දෝංකාර දෙනවා. ස්වාමීනී

සනංකුමාර බ්‍රහ්මරාජයා යම් පමණක් පිරිසකට කතා කරනවාද ඒ හඬ එතනින් එහාට යන් නෑ. බ්‍රහ්ම ස්වරය. මේ බ්‍රහ්ම ස්වරයෙන් යුතු සනංකුමාර බ්‍රහ්මරාජයා, බලන්න පින්වතුනි අද කාලයේ අපිට පුලුවන් විදියට අපි, දැන් බැරැන්ඩි වෙලා තියෙන්නෙ බණ කියලත් උගුරත් මොකක්ද වෙලා තියෙන්නෙ. ඒ හඬිනුත් අපි කියනවා. ඔබත් කියනවා, දෙවියොත් කියනවා. බ්‍රහ්ම ස්වරයෙන් බ්‍රහ්මයොත් බුදුගුණ කියනවා. ඊටපස්සෙ සනංකුමාර බ්‍රහ්මරාජයා තව්තිසා වැසි දෙවියෝ සනංකුමාර බ්‍රහ්මරාජයාට කිව්වා, මහා බ්‍රහ්මයෙනි ඉතා මැනැවි, අපි මේ කරුණ ගැනම ප්‍රීති වෙමු. සක්දේවේන්ද්‍රයන් විසින් භාග්‍යවතුන් වහන්සේගේ තිබෙන්නා වූම ගුණ අටක් අද අපිට කිව්වා, අපි ඒ ප්‍රීතියෙන් ඉන්නෙ කියලා දෙවිවරු සනංකුමාර බ්‍රහ්මරාජයාට කියා හිටිනවා. සනංකුමාර දිව්‍යරාජයා කියනවා ඉතා මැනැවි, ඉතා මැනැවි, අපිත් ඒ භාග්‍යවතුන් වහන්සේගේ තිබෙන්නා වූම බුදුගුණ අට අහන්න කැමැතියි. එහෙනම් අපිටත් කියන්න කියලා සක්දෙවිඳුට කියනවා. සක්දෙවිඳු සනංකුමාර බ්‍රහ්මරාජයාට බුදුගුණ අට කියනවා. ඒ තමයි ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ බොහෝ දෙනාට හිතසුව පිණිස, බොහෝ දෙව් මිනිසුන්ට හිතසුව පිණිස පහළ වුනා. එවැනි ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේවත් වර්තමානයේවත් බුදුරජාණන් වහන්සේ හැර නම් දකින්න නම් නෑ. ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මැනැවින් ධර්මය දේශනා කලා. ස්වාක්ඛාතයි, සන්දිට්ඨිකයි, අකාලිකයි. ඒහිපස්සිකයි, ඕපනයිකයි. නුවණැත්තන් තම තම නැණ පමණින් දැනගත යුතුයි. එවැනි ස්වාක්ඛාත ධර්මයක් දේශනා කරපු ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත් වර්තමානයේ වත් බුදුරජාණන් වහන්සේ හැර නම් නෑ. කියනවා සනංකුමාර බ්‍රහ්මරාජය මෙය කුසල්ය, මෙය අකුසල්ය, මෙය යහපතය, මෙය අයහපතය, මේ සේවනය කළ යුතු දේ, නොකළ යුතු දේ, මේ සුදු කර්ම, මේ කළු කර්ම මේවා මැනැවින් කියලා දුන්නේ බුදුරජාණන් වහන්සේ. බුදුරජාණන් වහන්සේ හැර මේවා දේශනා කරපු වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත්, වර්තමානයේ වත් බුදුරජාණන් වහන්සේ හැර නෑ. ඊළඟට බුදුරජාණන් වහන්සේ ශ්‍රාවකයන්ට නිවන වදාළා. නිර්වාණ ගාමිණී ප්‍රතිපදාව වදාළා. නිවන් මාර්ගය නිවනත් එක්ක පෑහිලා යනවා. නිවනට මාර්ගය පෑහිලා යනවා. ගංගා නම් ගඟේ වතුර යමුනා නදියේ වතුරත් එක්ක පෑහිලා යනවා වගේ, මෙවැනි වූ මාර්ගී ප්‍රතිපදාව පෑහිලා යන්න නිවනත් එක්කලා දේශනා කරපු ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත්, වර්තමානයේ වත් බුදුරජාණන් වහන්සේ හැර

නම් දකින්න නෑ. ඊළඟට කියාහිටිනවා සනංකුමාර බ්‍රහ්මරාජය, ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේට බොහෝ ලාභ සත්කාර ඉපදෙනවා. රජසිටුමැතිවරුන්ගේ පටන් බ්‍රහ්ම ලෝකය දක්වා කීර්තිය පැතිරිලා තියෙන්නෙ. ඒ කිසිවකට, ඒ ලාභ සත්කාර වලට නොඇලුනු සිතින් දන් වළඳන මෙවැනි ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත්, වර්තමානයේ වත් බුදුරජාණන් වහන්සේ හැර නම් දකින්න නෑ. ඊටපස්සෙ කියනවා බ්‍රහ්මරාජය, නිවන් මාර්ගය හික්මෙන සේක, හික්මවනා සේක. රහතන් වහන්සේලා සහිත සඟරුවන පිරිවරාගෙන බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නවා. ඒ ශ්‍රාවකයන්ට නොඇලුනු හුදෙකලා සිතකින් බුදුරජාණන් වහන්සේ වාසය කරනවා. එවැනි වූ ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත් වර්තමානයේ වත් බුදුරජාණන් වහන්සේ හැර නම් දකින්න නෑ. ඒ බුදුරජාණන් වහන්සේ යම් ආකාරයකින් කියනවා ද, දේශනා කරනවාද, යථාවාදී තථාකාරී, යථාකාරී තථාවාදී කියන දේ කරන, කරන දේ කියන වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ වත්, වර්තමානයේ වත් දකින්න නෑ. ඊළඟට කියනවා අටවෙනි ගුණය, සනංකුමාර බ්‍රහ්මරාජය ඒ තථාගතයන් වහන්සේට නිවන් මාර්ගය ගැන කෙසේද, කෙසේද කියලා කිසිම සැකයක් නෑ. සැකයක් නැතිව මෙතරම් සෘජුව නිවන් මාර්ගය දේශනා කරන වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් අපේ බුදුරජාණන් වහන්සේ හැර තවත් දකින්න නෑ කියලා සනංකුමාර බ්‍රහ්මරාජය මං මේ දෙව්වරුන්ට කිය කියා හිටියෙ. ඉතින් මේ දෙව්වරු ඒකට හරියට සතුටට පත්වුනා කියනවා. ඉක්බිති ඉතාමත් සතුටට පත්වුනා සනංකුමාර බ්‍රහ්මරාජයා බුදුගුණ අහලා, අප්‍රමාණ සතුටට පත්වෙලා ඒ සනංකුමාර බ්‍රහ්මරාජයා ගොරෝසු ආත්ම භාවයක් මවාගෙන පඤ්චසික කුමාර වේශයෙන්, අර පඤ්චසික වගේම කුමාරයෙක්ගේ වේශයෙන් ආකාසයේ පළඟක් බැඳගෙන ඉඳගත්තා, කාගෙවත් ආසනයක ඉඳගත්තෙ නෑ. කියනවා බිම පත්තරයක් දාලා කවුරුහරි හොඳට ඉඳගන්නෙ. ඒ වාගේ ආකාසයේ සනංකුමාර බ්‍රහ්මරාජයා, කුමාරයෙක්ගේ තරුණ පුතෙක්ගේ ස්වභාවයෙන් අවුරුදු දාසයක දැලි රැවුලවත් ඇවිල්ලා නැති අවුරුදු දාසයක වගේ පුංචි ස්වරූපයකින් ලස්සන කුමාරයෙක් විදියට අහසෙ පහළ වුනා. කොණ්ඩ පහ, කොණ්ඩෙ අර ජටා පහක් තියෙන විදියට කොණ්ඩෙ බැඳෙගෙන ඉන්නෙ බ්‍රහ්මයා. පහළ වෙලා භවත් තව්තිසා දෙව්වරුනි, කිමැයි හඟෙව් ද, භාග්‍යවතුන් වහන්සේ කොතරම් දීර්ඝ කාලයක් නම් මහා ප්‍රඥාවෙන් යුක්තව වැඩ සිටි සේක් ද යත් භවත්නි, මේ පෙර සිදුවූ දෙයකි. ඔන්න දැන් සනංකුමාර බ්‍රහ්මරාජයා තමයි අතීතයේ සිදුවෙච්චි සිදුවීමක් දැන් කියන්න

හදන්නෙ. දැන් මේ ඔක්කොම විස්තර පඤ්චසික තමයි ඇවිල්ලා බුදුරජාණන් වහන්සේට කියා හිටින්නෙ. කියනවා, සනංකුමාර බ්‍රහ්මරාජයා කියා හිටිනවා, දෙවිවරුනි, අතීතයේ හිටියා දිසම්පති කියලා රජෙක්. ඒ රජතුමාට ගෝවින්ද කියලා පුරෝහිතයෙක් හිටියා. රජතුමාට රේණු කියලා පුතෙක් හිටියා. ගෝවින්ද පුරෝහිතයාට ජෝතිපාල කියලා පුතෙක් හිටියා. මේ ජෝතිපාල මානවකයා ඉපදිච්ච දවසේ ආයුධ දිලිසුනා කියනවා ඒ නගරයේ. ඒකට හේතුව තමයි අනාගතයේ මහා ප්‍රඥාවන්තයෙක් වෙනවා කියන එක. ඊටපස්සෙ ජෝතිපාල කුමාරයත් රේණු රාජ පුත්‍රයාත් තවත් රාජ කුමාරවරු හයදෙනෙකුයි මේ අටදෙනා තමයි යාළුවො එකට ඉගෙන ගන්නෙ. පස්සෙ කාලෙක ගෝවින්ද පුරෝහිතයා මැරුණා. මැරුණට පස්සෙ අර රජතුමා ගොඩාක් ඇඬුවා. ඒ රජතුමාගේ නම දිසම්පති. දිසම්පති රජ්ජුරුවො ගොඩාක් ඇඬුවා, මං ගෝවින්ද පුරෝහිතතුමාට රාජ්‍යය භාරදීලා තමයි පංචකාමයෙන් සතුටු වෙවී මං විවේකයෙන් පාඩුවෙන් හිටියේ. දැන් ගෝවින්ද පුරෝහිත තුමා මැරුනා, මට මොකක්ද යන කලදසාව කියලා. ඊටපස්සෙ අර රේණු පුත්‍රයා ඇවිල්ලා කිව්වා තාත්තේ දුක්වෙන්න එපා. ඒ ගෝවින්ද පුරෝහිතතුමාට ජෝතිපාල කියලා පුතෙක් ඉන්නවා. ඔය පුතාට පුදුම නුවණක් තියෙන්නෙ. ඇත්තටම කියනවා නම් පියරජතුමනි, ඔය ගෝවින්ද පුරෝහිතතුමා තමන්ගේ පුතාගෙන් උපදෙස් අරන් ඇවිල්ලා තමයි රාජ්‍යය විචාරන කටයුතු වලට අනුශාසනා කලේ කිව්වා. රජ්ජුරුවෝ ඇහුවා ඇත්ත ද, රේණු කුමාරයා කිව්වා ඇත්ත. ඒ වෙලාවෙම රාජපුරුෂයෙකුට කතා කරලා කිව්වා ජෝතිපාල මානවකයාට එන්න කියන්න කියලා. ඉතින් ජෝතිපාල බ්‍රාහ්මණ තරුණයා කැඳෙව්වා. ඉතින් එතුමා ආවා. ඇවිල්ලා කිව්වා, කතාබහ කරලා කිව්වා, ජෝතිපාලය, අපිට අනුශාසනා කරන්න ඕන. භවත් ජෝතිපාලයෝ අපිට අනුශාසනා කිරීම ප්‍රතික්ෂේප කරන්න එපා. ඔබ පියාගේ තනතුරේ තියෙනවා, පියාගේ තනතුරේ අභිෂේක කරනවා. ඉතින් ජෝතිපාල තරුණයා ඒ විදියට අභිෂේක වුනා, පුරෝහිත තනතුරේ පිහිටියා. ඊටපස්සෙ දැන් රජතුමාට තාත්තා කියපු විදියටම අවවාද අනුශාසනා කරනවා, ඊටත් වැඩියෙනුත් අනුශාසනා කරනවා. තාත්තා කරපු වැඩ ටික ඒ විදියටම කරගෙන යනවා, ඊටත් වැඩිය වැඩත් කරගෙන යනවා. මිනිස්සු කල්පනා කලා, හම්මේ මෙන්න ගෝවින්ද, මෙයානෙ මහා ගෝවින්ද. එතකොට අර ජෝතිපාල කියන නම අතුරුදහන් වෙලා මහාගෝවින්ද කියලා නාමය පැනනැගුනා. ඊටපස්සෙ මේ මහාගෝවින්ද පඬිතුමා, බ්‍රාහ්මණතුමා ක්ෂත්‍රියයන් හයදෙනා කරා එළඹුනා.

යාළුවො අටදෙනයිනෙ. එක්කෙනෙක් රජතුමාගේ පුතා, රේණු කුමාරයා. තව කුමාරවරු හයදෙනෙක් ඉන්නවා. තමනුයි අටදෙනානෙ යාළුවො. ඒ හයදෙනාට කිව්වා දැන් අපේ මහරජ්ජුරුවෝ වයසයි, ගොඩක් වයෝවෘද්ධයි, මේ ජීවිතේ තියෙන්නෙ කොහෙද කියලා කියන්න බෑ, ඊළඟට අනිවාර්යයෙන් රජකම හම්බෙන්නෙ රේණු කුමාරයාට. ඒ නිසා නුඹලා හයදෙනා ගිහිල්ලා රේණු කුමාරයාට කියන්න ඕන අපි ඔබගේ යාළුවෝ, ඔබට කරදරයක් වෙන්න එපා, ඔබතුමාට දාස වෙලා අපි කටයුතු කරගෙන ඉන්නෙ. ඔබතුමා රජ වුනාට පස්සේ අපිටත් රාජ්‍යය හයක් දෙන්න, ඔය කොහෙ කොහෙහරි පරිපාලනය කරගෙන ඉන්න කියලා දැන්ම කියලා තියන්න කිව්වා. නුවණ ඉතින් මේවා. ඒ කියන්නෙ මොනවාහරි වැඩක් නම් කලින්ම කියලා තියාගන්න ඕන. ඊටපස්සෙ අර කුමාරවරු හයදෙනා ගිහිල්ලා කලින්ම කියලා තිබ්බා. ඊටපස්සෙ රේණු කුමාරයා කියනවා භවත්නි, භවතුන් හැර මාගේ විජිතයේ වෙන කවුරු නම් සැපයට පැමිණෙන්නාහු ද, ඉතින් භවත්නි මම රාජ්‍යය ලබන්නේ නම් ඔබට රාජ්‍යය බෙදන්නෙමි. ඔබටත් රාජ්‍යය බෙදන්නම්. ඊටපස්සෙ කාලයක් යනකොට මහරජ්ජුරුවො මැරුණා. මැරුණට පස්සේ රේණු කුමාරයා රජ වුනා. ඉතින් රේණු කුමාරයා රජවුනාට පස්සෙ හොඳට පංචකාමයෙන් සැප විඳ විඳ මහා රාජ සම්පත්ති විඳගෙන හිටියා. ඊටපස්සෙ දැන් සනංකුමාර බ්‍රහ්මරාජයා දෙවිවරුන්ට කියනවා දෙවිවරුනි, මහාගෝවින්ද අර හය දෙනාට කතා කරලා කිව්වා රේණු කුමාරයා අභිෂේක ලබලා ඉන්නෙ. ඉතින් රේණු කුමාරයා රජ සැපෙන් මත්වෙලා ඉන්නකොට අර කාරණා අමතක වෙන්න පුලුවන්. දැන් හය දෙනාට මහාගෝවින්ද බ්‍රාහ්මණතුමා කියනවා, පඬිතුමා. ඒ නිසා පොඩ්ඩක් ගිහිල්ලා මතක් කරන්න. ඊටපස්සෙ ඔන්න රජතුමාට ගාවට ගිහිල්ලා අර හයදෙනා කිව්වා, රජතුමනි ඔබතුමා සැපයෙන්ම ජීවත් වෙන්න ඕන. අර අපි ඉස්සෙල්ලා කියපු එක පොඩ්ඩක් මතක් කරන්නයි ආවෙ කියලා. ඊටපස්සෙ කිව්වා අනේ මට ඒක අමතක වෙලා තිබ්බෙ. දැන් කොහොමද මේ රාජ්‍යය කියනවා, මේ ජම්බුද්වීප රාජ්‍යය තියෙන්නෙ අර උල හැඩයටනෙ තියෙන්නෙ දැන් දඹදිව තියෙන්නෙ, ඉන්දියාව තියෙන්නෙ. ඉතින් මේක හරියටම අපි හත් දෙනෙකුට බෙදන්න හරියටම බෙදන්න දක්ෂ කවුද කියලා. ඊටපස්සෙ මෙයාලා කිව්වා අපේ ගෝවින්ද පඬිතුමා හැර කවුද මේවා බෙදන්න දක්ෂ. එහෙනම් ගෝවින්ද පඬිතුමාට එන්න කිව්වා. ගෝවින්ද පඬිතුමා ආවා. පඬිතුමා ඇවිල්ලා අර සිතියමෙන් ලස්සනට රාජ්‍යය හතකට බෙදුවා. බෙදලා රාජ්‍යය කලා, මේ රාජ්‍යය භාර දුන්නා. ඊටපස්සෙ හරියටම මැනැවින් බෙදුවා. එතකොට ඒ බෙදපු

එක තමයි කාලිංඝයේ දන්තපුරය කියලා අදටත් අපි කතා කරන්නෙ ගෝවින්ද පඬිතුමා තමයි ඒක ඉන්දියාවේ මැප් එකෙන් බෙදුවෙ, ඒ කාලෙ. ඊටපස්සෙ අද අපි කතා කරන අස්සකයන්ගේ පෝත නුවර, අවන්තියේ මාහිස්ස පුරය, සෝවීරයන්ගේ රෝරුක පුරය, විදේහයන්ගේ මිථිලා නුවර, අංග රටේ චම්පා නුවර, ඊළඟට කසී රට බරණැස් නුවර මේවා ගෝවින්ද බ්‍රාහ්මණයා තමයි ඒ නගර ටික, බරණැස් නුවර, චම්පා නුවර, කළිඟු රාජ්‍යය ඉන්දියාවේ ඒවා රාජ්‍යය හතකට බෙදුවේ ගෝවින්ද පඬිතුමා. නුවණින් කලේ මේක. කොච්චර මේක බෙදුනද කියනවානම් හොඳට එක රජෙකුට හිතුන් නෑ කියනවානෙ මේ මට අඩුයි, මට මේ ප්‍රශ්න මේ පැත්ත මට අහුවෙච්චි එක හරි නෑ කියලා එක රජෙකුට හිතුන් නෑ කියනවා. ඒ රජවරු හත්දෙනාම පුදුම සතුටට පත්වුනා කියනවා මේ රාජ්‍යය හත බෙදිලා ගිය විදියට. එතකොට අර අනිත් රාජ්‍යය වල අයත් කිව්වා අනේ ගෝවින්ද පඬිතුමා, බ්‍රාහ්මණ තුමා වේදේහ රජ්ජුරුවන්ට අවවාද අනුශාසනා කරනවා වගේම අපිටත් අවවාද අනුශාසනා කරන්න ඕන කියලා කිව්වා. ඊටපස්සෙ කිව්වා හරි එහෙනම් අපි අවවාද අනුශාසනා කරන්නම්. ඉතින් ඔන්න ඔය විදියට ගෝවින්ද පඬිතුමා ඒ රටේ ඉන්න මහා බ්‍රාහ්මණ පඬිවරු හත්දෙනෙක් එකතු කරගෙන ඒ අයටයි, ඇතුළු ගෝලයෝ තව බ්‍රාහ්මණයෝ හත්සීයකට වේදා වේදාන්ත උගන්වමින් වාසය කරනවා. ඔහොම ඉන්නකොට මහා ගෝවින්ද පඬිතුමා ගැන මිනිස්සු අතර කතාවක් ගියා, ඔය ගෝවින්ද පඬිතුමාට බ්‍රහ්මයා කතා කරනවානෙ. බ්‍රහ්මයාත් එක්ක සාකච්ඡා කර කරලුනෙ ඉන්නෙ. ඒ නිසාලු ඔච්චර නුවණ කියලා මහා ගෝවින්ද පඬිතුමා බ්‍රහ්මයාත් එක්ක කතාබහ කරනවා කියලා රටේම පැතිරිලා ගියා. එතකොට ගෝවින්ද පඬිතුමා කල්පනා කලා හත්ඉලව්වේ මේක හරි වැඩක්නෙ. මේ අපි කතා කරන්නෙත් නෑ මහා බ්‍රහ්මයත් එක්ක, මම දැකලත් නෑ, මේ මිනිස්සු කියන විකාරෙ. එතකොට ඒ කාලෙවත් මහාබෝධිසත්ත්වයෝ කැමැති නෑ තමන් ළඟ නැති දේවල් අනෙත් අය කියනවාට. මහාබෝධිසත්ත්වයෝ තමන් ළඟ නැති ගුණ අනිත් අය කියනවාට කැමැති නෑ. ඊටපස්සෙ කල්පනා කලා දැන් මං මොකක්ද කරන්නෙ, දැන් මට මිනිස්සු හදන්න යන්න බෑ. ඒ නිසා හොඳම වැඩේ තමයි මම බ්‍රහ්මයත් එක්ක කතා කරන විදියටම හදාගන්න ඕන කියලා මෙයා කල්පනා කලා අතීතයේ පුරාණ බ්‍රාහ්මණයන්ගෙන් අහලා තියෙනවා යම්කිසි කෙනෙක් වැහි හාර මාසේ හුදෙකලා වෙලා බ්‍රහ්මචාරීව කරුණා ධ්‍යානය වඩ වඩා හිටියොත් එහෙම ඔහුත් එක්ක මහා බ්‍රහ්මයා කතා කරනවා කියලා අහලා තියෙනවා. ඉතින් ඒ

නිසා මම එහෙම හිටියොත් නම් හොඳයි කියලා හිතිලා, රේණු රජ්ජුරුවො වෙත ගිහිල්ලා කිව්වා, රජතුමනි මං ගැන මෙහෙම ප්‍රචාරයක් යනවා මං මහාබ්‍රහ්මයාත් එක්ක කතා කරනවා මෙහෙමයි කියලා, අනේ රජතුමනි මං එහෙම කතා කරන්නෙත් නෑ, නමුත් මට හිතුනා මේ වාගේ ක්‍රමයක් තියෙනවා ඒ නිසා මහා බ්‍රහ්මයාත් එක්ක කතා කරන්න ඕන කියලා මට හිතුනා. ඒ නිසා මං වැහි හාර මාසෙ එකතැනකට වෙලා කරුණා ධ්‍යානයෙන් වාසය කරනවා, දානෙ ගේන කෙනා හැර කිසිම කෙනෙක් මා ළඟට පැමිණෙන් නැති විදියටයි මං කැමැති. රජතුමා ඒකට කැමැති වුනා. ඊටපස්සෙ අර රජවරු හත්දෙනාටත් පණිවිඩ යැව්වා. රජවරු හත්දෙනාත් කැමැති වුනා. ඊටපස්සෙ තමන්ගේ බිරින්දෑවරු හතළිහක් ඉන්නවා. ඒ බිරින්දෑවරු හතළිහටත් කිව්වා. එතකොට බිරින්දෑවරු හතළිහත් ඒකට කැමැති වුනා. දැන් ඔන්න ගෝවින්ද බ්‍රාහ්මණයා වෙනම මණ්ඩපයක් වෙනම ආවාසයක් හදාගෙන උයනේ, වෙනම බණ භාවනා කරනවා, කරුණාවෙන් මෛත්‍රියෙන් වාසය කරනවා. සිව් බඹ විහරණ වඩනවා. ඔහොම ඉන්නවා දානෙ ගේන එක්කෙනා හැර කිසි කෙනෙක් යන්නෙ නෑ. ඊටපස්සෙ පින්වත්නි අර ගෝවින්ද බ්‍රාහ්මණයාට, අර මාස හතර දැන් ඉවරයි. තාම මහා බ්‍රහ්මයා කතා කලේ නෑ. ඉතින් ගෝවින්ද බ්‍රාහ්මණයාට දුකක් හිතුනා සංවේගයක් ඇතිවුනා, අනේ මාත් එක්ක මහා බ්‍රහ්මයා තවම කතා කලේ නෑනෙ කියලා. එහෙම හිතනකොටම සනංකුමාර බ්‍රහ්මරාජයාගේ සිතට ඒ පරිවිතර්කය, ඒ ගෝවින්ද බ්‍රාහ්මණයා හිතපු සිතිවිල්ල පෙනෙන්න ගත්තා. ඒ මොහොතේම වක් කල අතක් දික් කරන වේගෙන්, දික් කරන අතක් වක් කරන වේගෙන් සනංකුමාර බ්‍රහ්මරාජයා ගෝවින්ද බ්‍රාහ්මණයා ඉදිරියේ පහළ වුනා. දැන් මේ ටික කියන්නෙ කවුද, කියන්නෙත් සනංකුමාරමයි. එතකොට මේ විස්තරය බුදුරජාණන් වහන්සේට කියන්නෙ කවුද, පඤ්චසික. ඊටපස්සෙ සනංකුමාර බ්‍රහ්මරාජයා ඉදිරියේ පහළ වුනාට පස්සෙ ගෝවින්ද බ්‍රාහ්මණයා බයවුනා, සංවේගයට පත්වුනා, ඇඟේ රෝමෝද්ගමනය වුනා. ඊටපස්සෙ කියනවා ලස්සන පැහැයෙන් බබළන, ශ්‍රීය ඇති ඔබ කවරෙක් ද? අනේ අපි දන්නෑ ඔබ කවුද කියලා, කියන්න ඔබ කවුද? ඊටපස්සෙ කිව්වා මා ගැන දෙවියන් බඹුන් දන්නේ සනංකුමාර කියලා. ඒ නිසා ගෝවින්ද මා ගැන සනංකුමාර කියලා දැනගන්න. ඊටපස්සෙ කිව්වා අනේ මේ ආහාරපාන හැමදෙයක්ම තියෙනවා, ඒ හැමදෙයකින්ම ඔබට පිළිගන්වනවා කිව්වා. ඊටපස්සෙ කිව්වා ඔබ හිත සතුටින් මට පිළිගැන්නුවෙ, ඒ නිසා මං ඒවා පිළිගන්නම්. ඔබට මොනවාහරි ඇසිය යුතු නම් මගෙන් ඒක අහන්න, දැන්

ඒකට කාලයයි කිව්වා. ඉතින් ඊටපස්සෙ ඒ ගෝවින්ද බ්‍රාහ්මණයා කල්පනා කලා, මේ බලන්න නුවණ. ගෝවින්ද බ්‍රාහ්මණයා කල්පනා කලා මේ ජීවිතයේ යහපත පිණිස ද දැන් මං බ්‍රහ්මයාගෙන් කරුණු අහන්න ඕන, පරාලොව ජීවිතය ගැන ද කියලා හිතුවා. හිතනකොට හිතුවා. මේ ජීවිතේ මිනිස්සුන්ගේ ප්‍රශ්න විසඳගන්න එන්නෙ මං ළඟට. රජවරුන්ගෙන් රජ කෙනෙක් හැටියට, බ්‍රාහ්මණයන්ගෙන් බ්‍රාහ්මණයෙක් හැටියට, ඊළඟට බමුණො මහා බ්‍රහ්මයා හැටියට ගෝවින්දට සළකන්නෙ. මිනිස්සු දෙවියෙක් හැටියට සළකන්නෙ ගෝවින්ද බ්‍රාහ්මණයාට. ඒ නිසා මේ ජීවිතේ සැප පිණිස නම් මට ඕන තරම් කරුණු කියන්න පුලුවන්. ඒ වුනාට මම පරලොව ගැන දන්නෑ විස්තර. ඒ නිසා පරලොව යහපත පිණිස පවතින යම් ධර්මයක් තියෙනවා නම් සනංකුමාර බ්‍රහ්මරාජයාගෙන් මං ඒක අහන්න ඕන කියලා හිතුවා. අන්න නුවණ. දැන් මිනිස්සුන්ට ඔය නුවණ නෑනෙ අද කාලෙ. බස් එකෙත්, ගෙදරත්, රූපවාහිනියෙත්, කැසට් එකෙත් හැම තැනම ඕපාදූප, රටේ වාතාවිච්චිනෙ. හාමුදුරුනමක් ළඟට ආවට පස්සෙත් රටේ වාතාවිච්චි ටිකම කතා කරනවා. එතකොට එයා කල්පනා කරන්න ඕන භික්ෂූන් වහන්සේ නමක් ඇසුරු කරන්න ඕන ධර්මයෙන් අනුශාසනා පිණිස. එතකොට භික්ෂූන් වහන්සේත් එක්ක දහම ගැන කතා කරන්න ඕන. ඊටපස්සෙ කල්පනා කරන්න ඕන මේ හැමතැනම ඇවිස්සිච්ච ලෝකයක් තියෙන්නෙ. අපිට බුද්ධ ශාසනයෙන් විතරයි හිත සනසන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ ශාසනෙන් අහන්න ඕන මෙලොව පරලොව ජීවිතය යහපත පිණිස ධර්මය අහන්න ඕන කියලා හිතන්න ඕන. තමන්ට සුලභව නොලැබෙන දේ ගන්න නුවණැත්තා දක්ෂ වෙන්න ඕන. එතකොට ඔබට හැමැතැනම වාතාවිච්චි කතා නම් ඇහෙන්නෙ, බණ විදියටත් අහන්නෙ වාතාවිච්චි නම් ඔබට දුර්ලභ දෙයක් ඇහෙන් නෑනෙ. ඔබත් වාතිවිච්චි කතා කර කර ඉඳලා, හාමුදුරුවොත් එක්ක නම් වාතාවිච්චි නම් කතා කරන්නෙ, ඔබ දුර්ලභ දෙයක් කතා කරන් නෑනෙ. ඒ නිසා හොඳට තේරුම්ගන්න. මේ ඔක්කොම ප්‍රඥාවේ අහේනිය. ප්‍රඥාව වේලිලා, කරුකුට්ටම් වෙලා තියෙන්නෙ. ඒ නිසා ප්‍රඥාව නැති එකයි මේකෙ ප්‍රශ්නෙ. දැන් කොහොමද ගෝවින්ද බ්‍රාහ්මණ තුමාගෙ, අපේ මහාබෝධිසත්ත්වයන්ගේ ප්‍රඥාව. ඊටපස්සෙ අහනවා සැක ඇති මම අන්‍යයන්ගේ ප්‍රශ්න පවා විසඳනවා මේ මනුස්ස ලෝකෙ. මට ඒ වුනාට මහා බ්‍රහ්මය, සනංකුමාර බ්‍රහ්මරාජයාගෙන් අහන්න තියෙන්නෙ, කුමක පිහිටි, කුමක හික්මෙන මනුෂ්‍යයාට අමෘතය වූ බඹලොවට පැමිණෙන්නෙ. ඒ කාලයේ අමෘතය කියලා, උතුම්ම දේ කියලා

ලෝකෙ සම්මත තමයි බ්‍රහ්ම ලෝකෙ යන එක. නිවනක් ගැන කතා වෙන් නෑ ඒ කාලෙ. එතකොට මහාබෝධිසත්ත්වයෝ අහනවා මට බ්‍රහ්මලෝකෙ යනහැටි කියන්න. මහාබෝධිසත්ත්වයෝ ඒ ජීවිතෙත්, බෝධිසත්ත්ව කාලෙ පවා උතුම්ම තැනට යන්න තමයි හැමවෙලාවෙම උත්සාහ කලේ, උතුම්ම තැනට. අද මිනිස්සු හීන තැනටම තමයි යන්න බලන්නෙ, හීන තැනටම. ඊටපස්සෙ මහාබ්‍රහ්මයා කියනවා බ්‍රාහ්මණය, මිනිසුන් අතර මමත්වය අත්හරින්න ඕන. හුදකලාවේ ඉන්න ඕන. කරුණා භාවනාව කරන්න ඕන. ආමගන්ධයය අත්හරින්න ඕන. මෛථුනයයෙන් වෙන් වෙන්න ඕන. මේ කරුණු ටික තුළ තමයි මිනිසා අමෘතය වූ බඹලොවට පැමිණෙන්නෙ. ඔන්න බ්‍රහ්ම ලෝකෙට යන්න ඕන නම්, මමත්වය අත්හරින්න ඕන. හුදකලාව ඉන්න ඕන. කරුණා භාවනාව වඩන්න ඕන. ආමගන්ධය අත්හරින්න ඕන. මෛථුනය සේවනයෙන් වැළකෙන්න ඕන. එතකොට තමයි බ්‍රහ්ම ලෝකෙ යන්නෙ. එතකොට මහාගෝවින්ද පඬිතුමා නුවණයිනෙ. ඊටපස්සෙ කිව්වා මමත්වය අත්හරිනවා කියලා කියන්නෙ ගිහිජීවිතේ අත්හැරලා අල්ප වූ, මහත් වූ, භවභෝග, ඥාතීන් අත්හැරලා කෙස් රැවුල් බාලා මහණ වෙන එකට. එතකොට මමත්වය අත්හරිනවා කියන එක මට තේරුණා. හුදෙකලා වෙනවා කියන එක මට තේරුණා. ඉතාමත් දුර බැහැර ආරණ්‍ය සෙනසුන් වල, ගල් රුක් මුල්, පර්වත ගිරිගුහා වල විවේකයෙන් වාසය කරන්න ඕන. ඒකත් මට තේරුනා. කරුණා භාවනාවෙන් ඇලෙන්න ඕන කියන එක මට තේරුනා. කරුණා සහගත සිතින් එක් දිශාවක් උඩ යට සරස දස දිසාවටම කරුණාව පතුරවන්න ඕන, අප්‍රමාණව හිතින් කරුණාව පතුරවන්න ඕන. මට ඒකත් තේරුණා. ඊළගට මෛථුනයයෙන් වැළකීමත් තේරෙනවා, අඹුසැමි ඇසුරින් වැළකිලා බ්‍රහ්මචාරීව වාසය කරනවා. මට ඒ ඔක්කොම තේරුනා. මට ඒ තේරුන් නැති දෙයක් තියෙනවා. බ්‍රහ්මරාජය මේ මිනිසුන් අතර මොකක්ද මේ ආමගන්ධය කියන්නෙ. මට ඒක නම් තේරුන් නෑ. ඊළගට කුමකින් වැසීගිය ප්‍රජාවෝ කෘෘර වූවාහු, අපායේ උපදින සුළු වෙත් ද, බඹලොව ගමන වසාගනීද? මේ ආමගන්ධය බ්‍රහ්ම ලෝකෙ යන එක වළක්වන, නිරයට වට්ටවන ආමගන්ධය මොකක්ද කියලා ඇහුවා. බ්‍රහ්මයා කියනවා, ක්‍රෝධය, බොරු කීම, වංචාව, මිත්‍රද්‍රෝහී බව, මසුරු කම, අතිමාන්නය, ඊර්ෂ්‍යාව, ආශාව, අධික ආශාව, අනුන්ට හිංසා කිරීම, ලෝභය, ද්වේෂය, මත්වීම, මුලාව යන මේ ක්ලේශයන්ගෙන් යුක්ත සත්ත්වයෝ ආමගන්ධයෙන් තොර නොවූහුය. අපායටම යන්නෝ ය. බඹලොව මග වසාගත්තෝ ය. ආමගන්ධය කියන්නෙ

ඔන්න ඔය කෙලෙස් වලට කියලා කිව්වා. මොනවද ඒ කෙලෙස් ටික, එහෙනම් බ්‍රහ්ම ලෝකෙ යන්න මේ ටික නැතිවෙන්න ඕන. ක්‍රෝධය, බොරුකීම, වංචාව, මිත්‍රද්‍රෝහී බව, මසුරුකම, අතිමාන්නය, ඊර්ෂ්‍යාව, ආශාව, අධික ආශාව, අනුන්ට හිංසා කිරීම, ලෝභය, ද්වේෂය, මත්වීම, මුලාව. ඊටපස්සෙ මේක කිව්ව ගමන් ගෝවින්ද බ්‍රාහ්මණයා නුවණයිනෙ. තේරුණා, ගෝවින්ද බ්‍රාහ්මණයා කියනවා ගෙදර ඉඳලා නම්, මේ මිනිස්සුත් එක්ක වාසය කර කර ඉඳලා නම් ඔය ගුණධර්ම පුරුදු කරන්න බෑ. හොඳම දේ තමයි ගිහි ජීවිතේ අත්හැරලා තපස් රකින්න යනවා කිව්වා. මහාබ්‍රහ්මයා කිව්වා ගෝවින්ද ඔබට යමක් හිතෙනවා නම් එය කරන්න කියලා නොපෙනී ගියා. ඊටපස්සෙ මහාගෝවින්ද බ්‍රාහ්මණයා මහාරජ්ජුරුවො මුණගැහෙන්න ගියා. අර රේණු මහරජ්ජුරුවො ළඟට ගිහිල්ලා කිව්වා රජතුමනි මම මහණ වෙන්න යනවා. ඊටපස්සෙ කියනවා රජ්ජුරුවෝ, අනේ එහෙම කරන්න එපා. ඔබගෙන්නෙ අපි අවවාද අනුශාසනා හදාගෙන හිටියේ. ඔබට කාගෙන්හරි කරදරයක් නම් කියන්න. මම ඔබ රජ කරලා සෙන්පතියෙක් විදියට ඔබ රකින්නම් කිව්වා. අනේ ඒක නෙවෙයි මම මහාබ්‍රහ්මයාගෙන් ආමගන්ධය ඇහුවා. ඒ ආමගන්ධය කියන එක මේ ගිහි ජීවිතේ ඉඳලා දුරු කරන්න බෑ, මට මහණ වෙන්න ඕන. ඊටපස්සෙ කිව්වා ඔබට විශ්වාසද. දැන් රජ්ජුරුවෝ අහනවා ඒ ආපු කෙනා ඔබට විශ්වාසයිද, ඔව් ඒ මහාබ්‍රහ්මයා, සනංකුමාර. ඒනම් සනංකුමාර බ්‍රහ්මරාජයා කිව්වා නම් ඔබටත් ඒක හිතෙනවා නම් මං මේකට අනුදැන වදාරනවා, ඔබ යන්න. හැබැයි මතක තියාගන්න, මාත් ඔබත් එක්ක යන්න එනවා කිව්වා. පුදුම සහගතයි පින්වත්නි, රජ්ජුරුවෝ ඒ වෙලාවෙම කිව්වා මාත් එන්නම් කියලා. මට නම් හිතාගන්න බෑ පින්වතුනි මෙහෙම එකක්. අත්හරිනවා කියන්නෙ පුදුම සහගතයි. මේ අයනෙ නිවන් දකින්නෙ පින්වතුනි. මේ ඔක්කොම නිවන් දැක්කානෙ. ඊටපස්සෙ හා හා එහෙම කිව්වෙ නෑ, ඔබතුමා ඉන්න මටයි ඕන කියලා කතාවක් නෑ. ඇයි ඒ, උත්තම අග්‍ර දේ දෙන්නයි කැමැති මහා බෝධිසත්ත්වයෝ. ඊටපස්සෙ මෙයා රජවරු හත්දෙනාට කතා කලා. කිව්වා මම යනවා. ඊටපස්සෙ රජවරු කිව්වා, එපා ඔබ යන්න එපා, ඉන්න, අපි උපස්ථාන කරන්නම්. නෑ එහෙම නෙවෙයි, මම ආමගන්ධය දුරු කරනවා, කෙලෙස් දුරු කරන්න ඕන ඒකයි මහණ වෙන්නෙ. ඊටපස්සෙ මේ හත්දෙනා එකතු වෙලා කතා කලා හොර රහසේ, මෙයාට වස්තුව දුන්නොත් එහෙම, ඔය බ්‍රාහ්මණයො ගොඩාක් වස්තුවට කැමැතියි, නවතියි කියලා. ගිහිල්ලා කිව්වා, අපේ රටේ තියෙන සියලුම රටවල් හතේ තියෙන සියලුම වස්තුව ඔබට ලැබෙන්න සලස්වනවා, ඊටපස්සෙ කිව්වා අයියෝ

ඒවා නැතිව නෙවෙයි කෙලෙස් දුරු කරගන්නයි ඕන, ඊටපස්සෙ ආයෙ ඇවිල්ලා හත්දෙනා කතා කලා, ඔය බමුණො හරි පෙරේතයි කෙල්ලන්ට. ඒ නිසා අපේ රටේ ඉන්න ලස්සනම කෙල්ලො ටික දෙමු ගෝවින්ද බ්‍රාහ්මණයාට. ගිහිල්ලා කිව්වා අපේ රටේ සියලුම කාන්තාවො ලස්සන ටික ඔබට දෙනවා. ඊටපස්සෙ කිව්වා මටත් බිරින්දෑවරු හතළිහක් ඉන්නවා කිව්වා. ඒ අයත් අතහැරලා තමයි මං මේ මහණ වෙන්න යන්නෙ කිව්වා. ඉතින් මට මේක කියනකොට මතක් වුනේ මම දන්නම ළමයි ඉන්නවා මහණ වෙන්න ආසාවෙන් හිටපු, තාත්තා ත්‍රීවිල් එකක් ගෙනත් දුන්නා, එදායින් පස්සෙ මහණ වෙන කතා නෑ. එක කොල්ලෙක් මහණ වෙන්න හිටියා, ඒ මහණ වෙන්න හිටපු කොල්ලට ෆෝන් එකක් ගෙනත් දුන්නා, එදා ඉඳලා ම යන්නක් කියවෙන්නෙත් නෑ. ඊළඟට තව කොල්ලෙක් හිටියා මහණ වෙන්න, ඒකට කොම්පියුටරයක් ගෙනත් දුන්නා, ඒකටත් නෑ මහණකම. එතකොට මේ වාගේ කෙල්ලො ටිකක් එහෙම දෙනවා කිව්වා නම් ආයෙ එදා ඉඳලා සිවුරක් දිහාවත් බලන එකක් නෑ. මේ බලන්න මහාබෝධිසත්ත්වයෝ අත්හැරපු අත්හැරිල්ල. ඊටපස්සෙ කිව්වා, එහෙනම් ඔබ යන්න යහපත් දෙයක්නෙ. මෙහෙම ඔබට අපි අවසර දෙනවා. හැබැයි අපි හත්දෙනත් එනවා කිව්වා. පුදුම සහගතයි. ඊටපස්සෙ කිව්වා එහෙනම් අපිට දරුවන්ට මේ රජකම බාරදීලා ඔය ටික ඔක්කොම කරලා එන්න අවුරුදු හතකින් යමු අපි. කිව්වා මේ ජීවිතේ කොයිවෙලාවෙද කියන්න බෑ. අවුරුදු හතක් කියන්නෙ කොච්චර කාලයක් ද, ඔයාලා ඉන්න මං යනවා කිව්වා. අනේ එපා පොඩ්ඩක්, අවුරුදු හයක්, පහක්, හතරක්, තුනක්, දෙකක්, අවුරුද්දක්, මාසයක්, අඩමාසයක්, ඊළඟට මාස භාගයක්, අම්මෝ බෑ ඒ දවස් පහළොවට මොකක් වෙයිද දන් නෑ කිව්වා. ඊටපස්සෙ කිව්වා එහෙනම් දවස් හතක්. දවස් හතක් කියන්නෙ ලොකු කාලයක් නෙවෙයි, අපි දවස් හතකින් යං. ඊටපස්සෙ දවස් හතකින් යන්න තීරණය කලා, අර කාන්තාවො හතළිහ ළඟටත් ගියා, බිරින්දෑවරු හතළිහ ළඟට. ගිහිල්ලා කිව්වා බිරින්දෑවරුනි ඔබ කැමැති කෙනෙක් එක්ක යන්න, මෙන්න වස්තුව තියෙනවා, ඕන මනුස්සයෙක් කරගහගන්න කිව්වා. මං යනවා මහණ වෙන්න කියලා, ඊටපස්සෙ කිව්වා ඔබ මේ සියල්ල - අද කාලෙ නම් නියමයි කියයි. ඊටපස්සෙ කිව්වා ඔබ මේ සියල්ල අතහැරලා යනවා නම් අපිට මොකටද ඒවා. ඒ නිසා ඔබ අපිට අවසර දෙනවා නම් අපිත් කෙස් බාලා, අපිත් කසාවත් දරාගෙන පැවිදි වෙනවා කිව්වා. හා කමක් නෑ කිව්වා. ඊටපස්සෙ මේ විදියට දවස් හතක් යනකොට රාජ්‍ය හතේම රජවරු හත්දෙනයි, ඊළඟට අර බ්‍රාහ්මණයො හත් දෙනෙකුට ඉගැන්නුවානෙ,

ශිෂ්‍යයො හත්සීයකට. ඒ අයටත් කිව්වා. ඊටපස්සෙ ඒ අයත් කිව්වා අපිත් එනවා මහණ වෙන්න කියලා. එතකොට හත්වෙනි දවස වෙනකොට රේණු රජ්ජුරුවොයි, රටවල් හයක රජ්ජුරුවොයි, ඊළඟට බමුණො හත් දෙනයි, ගෝලයො හත්සීයයි, බිරින්දෑවරු හතළිහයි ඔය ඔක්කෝම පැවිදි වෙන්න ගියා. පැවිදි වෙලා ඒ සියලු දෙනාම මෛත්‍රී කරුණා මුදිතා උපෙක්ෂා කියන ඒ භාවනා වඩ වඩා හිත සමාධිමත් කරගෙන බොහෝ කාලයක් වාසය කලා. යම් ගමකට ගෝවින්ද බ්‍රාහ්මණයා ආවොත්, තාපසතුමා, රජෙක් ආවා වගේ. මහා බ්‍රහ්මයා ආවා වගේ. දෙවි කෙනෙක් පහළ වුනා වගේ. එච්චර ආනුභාවයක් කියනවා. එහෙම ඉඳලා බොහෝ දෙනාට හිතසුව පිණිස මෛත්‍රී කරුණා මුදිතා උපෙක්ඛා වඩන්න කරුණු යෙදුනා. ඊටපස්සෙ කියනවා ඒ සනංකුමාර බ්‍රහ්මරාජයා, භවත් දෙවිවරුනි, ඒ සමයෙහි මහා ගෝවින්ද බ්‍රාහ්මණයාගේ ශ්‍රාවකයො ඒ ගෝවින්ද කියපු විදියටම සමාධි භාවනාව ඉපැද්දුව අය ඔක්කොම බ්‍රහ්ම ලෝකෙ ඉපදුනා. එච්චර කරගන්න බැරිවෙච්චි අය පරනිම්මිතවසවර්තියෙ ඉපදුනා. එච්චරක් කරගන්න බැරිවෙච්චි අය නිම්මාණරතියෙ ඉපදුනා. එච්චරක් කරගන්න බැරිවෙච්චි අය තුසිතයේ ඉපදුනා. එච්චරක් කරගන්න බැරි අය යාමයේ ඉපදුනා. එච්චරක් කරගන්න බැරිවෙච්චි අය තව්තිසාවෙ ඉපදුනා. එච්චරක් කරගන්න බැරිවුනු අය චාතුම්මහාරාජිකයෙ ඉපදුනා. ඒ එදා මහණවෙන්න ගිය බොහෝ පිරිස, ගංවල පිරිස් පවා මහණ වෙන්න ගියා. ඒ සියලු දෙනාගෙන් අවම එක්කෙනාත්, මොකවත් කරගන්න බැරිව හිටපු එක්කෙනා ගිහිල්ලා ඉපදුනේ දෙවියන්ගේ ගාන්ධර්වයන් අතර. ඒත් චාතුම්මහාරාජිකයේ ඉපදුනා කිව්වා අවසාන එක්කෙනත්. ඔක්කොම සුගතියෙනෙ. මේ පින්වතුනි බෝධිසත්ත්ව කාලෙ අවවාද දීලා ඒ වගේම බෝධිසත්ත්ව කාලෙ උන්වහන්සේ පිටිපස්සෙ ගිය අය අවම එක්කෙනත් සුගතියෙ ඉපදුනා. බෝධිසත්ත්ව කාලෙ, සම්බුදු වෙලා නෑ. දස බල ඥාණ, විශාරද ඥාණ, ෂඩ් අසාධාරණ ඥාණ ඒවා නැති කාලෙ මේ. සම්මා සම්බුදු නොවී තියෙන කාලෙ. ඊටපස්සෙ මේ විස්තර කියලා දෙවිවරු සන්තෝෂයට පත් කරලා, සනංකුමාර බ්‍රහ්මරාජයා අතුරුදහන් වෙලා ගියා. ඉතින් පඤ්චසික අහනවා බුදුරජාණන් වහන්සේගෙන්, ඇත්තටම භාග්‍යවතුන් වහන්සේ, භාග්‍යවතුන් වහන්සේ ඕවා සිහි කරනවාද, අතීතයේ වෙච්චි ඒවා. පඤ්චසික මම සිහිකරනවා. ඒ කාලෙ මහාගෝවින්ද වෙලා හිටියේ මම. මම ඒක සිහි කරනවා. හැබැයි පඤ්චසික, ඒ කාලෙ මම ශ්‍රාවකයො හික්මවපු වැඩපිළිවෙල බ්‍රහ්ම ලෝකය පිණිසයි පවතින්නෙ. සසර දුක් කෙළවර කරගැනීම

පිණිස පවතින් නෑ. චතුරාර්ය සත්‍යය අවබෝධ කිරීම පිණිස පවතින් නෑ. කෙලෙස් සන්සිඳීම පිණිස පවතින් නෑ. නිවන පිණිස පවතින් නෑ. පඤ්චසික, මම දැන් මේ අමා මහ නිවන් මාර්ගය විවෘත කලා. දැන් මේ බුද්ධ ශාසනයේ බඹසර පවතින්නේ කලකිරීම පිණිස, නොඇලීම පිණිස, කෙලෙස් නැසීම පිණිස, කෙලෙස් සංසිඳීම පිණිස, විශිෂ්ට ඥාණය පිණිස, චතුරාර්ය සත්‍යාවබෝධය පිණිස, නිවන පිණිස, පඤ්චසික ඒකාන්තයෙන් කලකිරීම පිණිස නිදහස් වීම, සියලු දුකින් නිදහස් වීම පිණිස, අමාමහ නිවන පිණිස, චතුරාර්ය සත්‍යය අවබෝධය පිණිස පවතින මේ ආර්ය අෂ්ටාංගික මාර්ගයයි මා දේශනා කලේ, දැන් මොකක්ද ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගය. සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි. ඉතින් පඤ්චසික මේ බඹසර වනාහි ඒකාන්තයෙන් කළකිරීම පිණිස, විරාගය පිණිස, නිරෝධය පිණිස, සන්සිඳීම පිණිස, විශිෂ්ට ඥාණය පිණිස, සත්‍යාවබෝධය පිණිස, නිවන පිණිසම හේතු වෙනවා. ඉතින් පඤ්චසික, මාගේ ශාසනයේ මේ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ සම්පූර්ණයෙන්ම කවුරුහරි මේ කියලාදෙන වැඩපිළිවෙල ඔක්කෝම කවුරුහරි තේරුම් ගන්නවා නම්, එයා ප්‍රඥා විමුක්තියයි, චිත්ත විමුක්තියයි ලබාගත්ත ස්වකීය විශිෂ්ට ඥාණයෙන් අවබෝධ කරපු මහරහතන් වහන්සේ නමක් බවට පත්වෙනවා. පඤ්චසික එච්චරම කරගන්න බැරිවුනොත් එයා අනාගාමී වෙලා ශුද්ධාවාස බ්‍රහ්මලෝකෙ ඉපදිලා එහෙ පිරිනිවන් පානවා. පඤ්චසික ඒ ටිකත් කරගන්න බැරිවුනොත් රාග, ද්වේෂ, මෝහ තුනී කරලා සංයෝජන ප්‍රහාණය කරලා සකදාගාමී වෙනවා. එක පාරයි ආයෙ මනුස්ස ලෝකෙට එන්නෙ, කාමලෝකෙට. පඤ්චසික මේක අඩුම අවම මට්ටමින් මේ බුද්ධ ශාසනය තේරුම් ගත්තොත් ඒ අය සෝවාන් වෙනවා, ජීවිත අටකින් අර්හත්වයට පත්වෙනවා. මෙන්න මේකයි කිව්වා නෛර්යානික බුද්ධ ශාසනය. ඉතින් ඒ නිසා පඤ්චසික එතකොට දැන් පැහැදිලියි බුදු කෙනෙක් ධර්මය දේශනා කරන්නේ ඒකාන්තයෙන් මාර්ග ඵල අවබෝධයෙන් සසර දුකින් නිදහස් වෙන්න, පඤ්චසික කුලපුත්‍රයන්ගේ පැවිද්ද හිස් වෙන්නෑ, වඳවෙන් නෑ, දියුණුව පිණිසයි පවතින්නෙ. ඉතින් මේ දේශනාව බුදුරජාණන් වහන්සේ දේශනා කරලා පඤ්චසික දිව්‍ය පුත්‍රයා හරීයට සතුටු වෙලා බුදුරජාණන් වහන්සේගේ සිරිපා කමල් වන්දනා කරලා එතනම අතුරුදහන් වෙලා ගියා. මේ වනාහි මහා ගෝවින්ද සූත්‍රයයි. ඔබට ඉතාම සුන්දර දේශනාවක් අහන්න ලැබුනෙ. එතකොට භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ අනන්ත බුදුගුණ කඳ. සසරේ පුරුදු කරපු ප්‍රඥාව. උන්වහන්සේ

නිවන පිණිස ධර්ම දේශනා කරන හැටි. ඇත්තටම අපිට ගෝවින්ද බ්‍රාහ්මණයාට තිබ්බ විශ්වාසය සහ එතුමාට තිබුනු පිළිගැනීම, එතුමාගේ නුවණ, ඒ පිළිගැනීමත් එක්ක නේද අර ඔක්කෝම එකතු වුනේ. ඒ නිසා නේද ඔක්කෝටම යහපත වුනේ. ඒ නිසා අපේ බුදුරජාණන් වහන්සේ ගැන විශ්වාසය ඇති කරගන්න. බුදුරජාණන් වහන්සේ අපිව සසර දුකින් නිදහස් කරවනවා කියන විශ්වාසය. උන්වහන්සේගේ ධර්ම චක්‍රය කරකවනවා අපි කරා, එතකොට අපි තුළ තියෙන්නේ සංසාර චක්‍රය. එතකොට ඒ ධර්ම චක්‍රයෙන් අපේ තියෙන සංසාර චක්‍රය සිඳලා අපි නිවන් කරා කැඳවාගෙන යනවා. ඒක තමයි ධර්ම චක්‍රය. ඒ නිසා අසිරිමත් ධර්ම චක්‍රය ප්‍රවර්තනය කළ මුණිඳුගේ සරණ ලැබේවා. නිවන් දකිනා මොහොත දක්වා බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ශ්‍රී සද්ධර්මය සරණ යනවා, ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. උතුම් සම්බුදු සරණින් ඔබ සැනසේවා.

ඉතින් පින්වත්නි, අද දවසේ උතුම් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ පින්වත් වෛද්‍ය ආසිරි අතපත්තු මහත්මයා, චූලාංගනී නවරත්න මහත්මිය සහ සිනෙලි දෙව්දිණී දියණිය විසින්. ඉතින් අපි පළමුවෙන් සෙත් පතමු, භාග්‍යවතුන් වහන්සේගේ අනන්ත බුදුගුණ බලයෙන් නෛර්යාණික වූ බුද්ධ ශාසනය පිහිට වූ බව සත්‍යයි, ඒ සත්‍යානුභාව බලයෙන් අපගේ මව්රටටත් ලෝකයටත් සියලු ආරක්ෂාව සෙත වේවා, මිනිස්සු නිදුක් නිරෝගී යහපතටම පත්වේවා කියලා. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙලා මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. විශේෂයෙන් සක්දෙවිඳු, සනංකුමාර බ්‍රහ්මරාජයා, පඤ්චසික දිව්‍ය පුත්‍රයා, සතරවරම් දෙවියෝ ඇතුළු සියලු දෙවිවරුන්ට පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම පරම පූජනීය, ගුරුදේවෝත්තම, ලොකු ස්වාමීන් වහන්සේ නිසා අපි මේ බුද්ධ ශාසනයේ පිහිට ලබන්නේ. මේ දේශනාවෙම තමයි තියනේනෙ බුදුරජාණන් වහන්සේකලා දෙනමක් ලෝකෙ පහළ වෙන් නෑ. බුදුරජාණන් වහන්සේ නමක් ගැන කතා වෙනකොට ඒ බුදුරජාණන් වහන්සේ නිදුක් නිරෝගීව බොහෝ කල් වැඩ සිටින්න කියලා හිතන්න කියලා. ඒ වගේම අපිට හිතන්න අමාරුයි මෑත භාගයේ මේ වාගේ බුද්ධ ශාසනය බබළවන උත්තමයන් වහන්සේ නමක්, ලොකු ස්වාමීන් වහන්සේ වගේ ආයෙ පහළ වෙයිද කියලා. ඒ නිසා හොඳම දේ තමයි අපේ ලොකු ස්වාමීන් වහන්සේ බොහෝ දෙනාට හිතසුව පිණිස, බොහෝ කාලයක් වැඩ සිටිත්වා උතුම් සත්පුරුෂයන් වහන්සේලා. අපිට අද බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් ඒ ප්‍රාර්ථනාව කරන්න, භාග්‍යවතුන්

වහන්සේ පිරිනිවන් පාලා. ඒ නිසා මේ දහම් ඇසුර අපිට ලබාදුන්න අපේ ගුරු දෙවිඳුන් නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ ලබත්වා. ඒ වගේම සියලු ස්වාමීන් වහන්සේලා, අනගාරිකා මෑණිවරුන්, පැවිදි අපේක්ෂක දූපුතුන් සියලු දෙනාට මේ පින් අනුමෝදන් වී ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම දායකත්වය දැරූ පින්වත් වෛද්‍ය ආසිරි අතපත්තු මහත්මයා, චූලංගනී නවරත්න මහත්මිය සහ සිනෙලි දෙව්දිණි දියණියට මේ පින් අනුමෝදන් වේවා. ඒ පින්වත් දියණිය ඇතුළු ඒ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වෙලා නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා. අනාගත ජීවිතේ සම්බුදු සරණින් සැනසෙත්වා, කරදරයක් පීඩාවක් නොවී, මනුස්ස ජීවිතේත් ඒ වගේම ගෞතම ශාසනයේත් පිහිට සළසාගන්න ඔබට වාසනාව සැලසේවා. එම දායකත්වය දැරූ පින්වතුන්ගේ පවුල් වල අයටත්, හිත මිත්‍රාදීන්ටත්, ඔබ සියලු දෙනාටත්, ලක්විරු ගුවන් විදුලියේ ශ්‍රද්ධා රූපවාහිනියේ සියලු දෙනාට, කාර්ය මණ්ඩලයට මාධ්‍යය පවත්වාගෙන යන්නට උපකාර කල සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වේවා. මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් වේවා. අපිටත් නෛර්යාණික බුද්ධ ශාසනයේ සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=LzEHY3n4Trs&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=53

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ පින්වත් හංසි නිසංසලා මහත්මිය විසින්. ඉතින් ඒ නිසා එතුමිය අද බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු ගුණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරමින් අප්‍රමාණ පිනක් රැස් කරගන්නවා. අද බුදුරජාණන් වහන්සේගේ විශේෂ ගුණයක් කතා කරන්නෙ. භාග්‍යවතුන් වහන්සේ ආමගන්ධය ප්‍රහාණය කළ බව, හරි අගෙයි මේ දේශනාව. මස් මාංශ කෑම ගැන තියෙන්නෙ. ඒ නිසා මේ කරුණු කාරණාව තේරුම් අරන් තිබීම හරියට වටිනවා, බුද්ධ දේශනාව ඇසුරෙන්. සමාජයේ බොහෝ ආන්දෝලනයට ලක්වුනු කාරණාවක් තමයි මස් මාංශ ප්‍රශ්නය, නැත්නම් නිර්මාංශ ප්‍රශ්නය. ඉතින් ඒ නිසා මේ දේශනාව තේරුම් ගන්න එක හරි අගෙයි. ඒ දවස්වල අපේ බුදුරජාණන් වහන්සේ වැඩ සිටියේ සැවැත්නුවර ජේතවනාරාමයේ. මේ සූත්‍ර දේශනාවේ නම ආමගන්ධ සූත්‍රය. බුදුරජාණන් වහන්සේගේ දැක්ම, බුදුරජාණන් වහන්සේ කෙලෙස් ගැන කරන අර්ථ විවරණ හරි වටිනවා. මේ සූත්‍ර දේශනා ඇසුරෙන් අපිට තේරුම් ගන්න ලැබෙන එක. මේ සූත්‍ර දේශනාව කියවනකොට මට මතක් වුනේ අපි කලින් කලානෙ මහා ගෝවින්ද සූත්‍රය. ඒකෙ තියෙනවානෙ ආමගන්ධය ගැන. එතකොට ඒ ආමගන්ධය ප්‍රහාණය කළොත් තමයි කියනවා බ්‍රහ්ම ලෝකෙ යන්න පුලුවන්නෙ. එතකොට ආමගන්ධය ප්‍රහාණය කලොත් නම් බ්‍රහ්මලෝකෙ යන්නෙ, ඒ සියලු ලෝකෙන් එතෙර වුන ලෝකෝත්තර තත්ත්වයට යන්න කොහොමටත් ආමගන්ධය ප්‍රහාණය කරන්න වෙනවා. එතකොට ආමගන්ධය කියන්නෙ මොකක්ද කියලා ඒ දේශනාවත් එක්ක තමයි මට කල්පනාවට ආවෙ මේ ආමගන්ධ සූත්‍රය. එතකොට ඒ සූත්‍රය ගැන කල්පනා කරනකොට මට ඒත් එක්කම තේරුනා, මේකෙන් බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ නේද ඉස්මතු වෙන්නේ. බුදුරජාණන් වහන්සේගේ පවිත්‍ර බව නේද, බුදුරජාණන් වහන්සේ කුසල්, අකුසල් හරියට දන්නා බව නේද, ඇයි සක්දෙව්දු කිව්වෙ ඒකනෙ මේ කුසලයයි, මේ අකුසලයයි, මෙය සේවනය කරන්න, මෙය සේවනය කරන්න එපා, මේ හොඳ, මේ නරක, මේ කළු ධර්ම, මේ සුදු ධර්ම කියලා බුදුරජාණන් වහන්සේ තරම් පිරිසිදුව මැනැවින් දේශනා කරපු වෙනස් ශාස්තෘන් වහන්සේ නමක් අතීතයේ හෝ වර්තමානයේ හෝ බුදුරජාණන් වහන්සේ හැර දකින්න ලැබෙන් නෑ. ඉතින් ඒ නිසා අපි මේ කාරණාව ගොඩාක් තේරුම් ගන්න ඕන, බුදුරජාණන් වහන්සේ හැර මස්, මාංශ ප්‍රශ්නය විසඳන්න නම් කෙනෙක් නෑ. ඇයි මොකද, ඍද්ධියෙන් ඇවිල්ලා කිව්වත් මස් මාංශ කන අය කනවා, නොකන අය බනිනවා.

ඔය දෙක තමයි ලෝකෙ තියෙන්නෙ. ඒ නිසා මේ ප්‍රශ්නය විසඳගෙන තියාගන්න එක හරි වටිනවා. ඒ දවස්වල භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ වැඩ සිටියේ සැවැත්නුවර ජේතවනාරාමයේ. ඉතින් බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න කාලයේ එක්තරා තාපසයෙක් හිටියා, මේ තාපසයා මස් මාංශ වළඳන් නෑ. මාළු මස් වර්ග, පිළිහිඩි වර්ග ආහාරයට ගන්නෑ. ගස්වල කොල, ඊළඟට ඇට වර්ග, ඒවා තමයි ආහාරයට ගන්නේ. ඉතින් ඒ නිසා මේ තාපසයින් වහන්සේට මං හිතන්නෙ පන්සීයක් ඉන්නවා ශිෂ්‍යයෝ. එතකොට ඒ ශිෂ්‍යයො පන්සීයත් එක්කම නිර්මාංශ වෙලා භාවනා කරනවා. මෙයාලගේ ජීවිතේ, දැන් අපි චතුරාර්ය සත්‍යය අවබෝධය ඉලක්ක කරගෙන, ආර්ය අෂ්ටාංගික මාර්ගය සීල, සමාධි, ප්‍රඥා වශයෙන් වඩනවානෙ. ඒ අය විමුක්තියක් උදෙසා එයාලා කරන ප්‍රතිපදාව තමයි නිර්මාංශ වීම. එතකොට මොකද වුනේ, නිර්මාංශ වීම මුල් කරගෙන ඉන්නවා, කන්නෙ බොන්නෙ නෑ මස්, මාංශ. ඉතින් ගමට එනවා, ගමේ මිනිස්සුන්ටත් කරන දේශනාව තමයි මස් කන්න එපා. මාළු කන්න එපා, පිළිහිඩි වර්ග කන්න එපා. නුඹලා ඕවා කාලා, බලාපල්ලා හාල්මැස්සො සීයක් කෑවොත් ප්‍රාණීන් සීයක්නෙ. ඒ නිසා ඕවා බඩේ තියාගෙන, මලකුණු බඩේ තියාගෙන උඹලා ලෝකයට කොහොමද මෛත්‍රී කරන්නේ. ඒ නිසා කන්න එපා කියලා මේ තාපසයා ගමේ මිනිස්සුන්ට බණ කියනවා. ඉතින් ගමේ මිනිස්සු ඔක්කොම ටික අර තාපසයින් වහන්සේට, ආමගන්ධ තාපසයින් වහන්සේට හරියට ඇප උපස්ථාන කරනවා. මෙහෙම කරද්දී ඊටපස්සෙ මේ බ්‍රාහ්මණයා හිමාලයේ ඉන්නවා. හිමාලයේ කාලයක් යනකොට අර කොළ පොතුම කාලා ඇඟ ගොඩාක් කෙට්ටු වෙලා මන්දපෝෂණ ගතියක් ආවා. ඊටපස්සෙ ඒත් එක්කම ලුණු ඇඹුලුත් හොයාගෙන ආපහු අර පන්සීයත් එක්ක ගමට ආවා. ආයෙ ගමේ මාස තුනක් විතර වස් කාලය ඉඳලා, ඊටපස්සෙ කාල බීලා ඔන්න ඇඟ ආයෙ ටිකක් හැදෙනවා, ආයෙ කැලේට යනවා. එතකොට ඔහොම ඉන්නකොට, ඔය අතරතුර භාග්‍යවත්, අර්හත්, ගෞතම අපගේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඒ හිමාලයේ පර්වත ප්‍රාන්තයේ ඒ ගමට වැඩියා. එතකොට ඒ වැඩියාට පස්සෙ බුදුරජාණන් වහන්සේ ඒ ගමට ගිහිල්ලා ඒ ගමේ මිනිස්සුන්ට ධර්මය දේශනා කලා. ඒ ගමේ මිනිස්සු ඔක්කෝම කට්ටියක් සෝවාන් වුනා, කට්ටියක් සකදාගාමී වුනා, කට්ටියක් අනාගාමී වුනා, කට්ටියක් පැවිදි වුනා, ඉතින් ඒ මුළු ගමම ධර්මානුකූල වුනා. ඊටපස්සෙ ඔන්න බුදුරජාණන් වහන්සේ ආයෙත් සැවැත් නුවරට වැඩියා. කාලෙකට පස්සෙ ආයෙත් අර තාපසයින් වහන්සේ, ආමගන්ධ තාපසයින් වහන්සේ ශිෂ්‍යයො

පන්සීයත් එක්ක ආපහු එනවා අර ගමට. ආපහු ඒ ගමට ඇවිල්ලා පිණ්ඩපාතේ යනවා, ලුණුඇඹුල් හොයාගෙන. දානෙ ලැබෙනවා, මිනිස්සුන්ගේ නෑ අර ඉස්සර තරම් අර බ්‍රහ්මයෙක් ආවා වගේ අර මිනිස්සු සලකන ගතිය, ඒක නෑ. මිනිස්සු හරි අමුතුයි. ඒ මිනිස්සු තම තමන්ගේ වැඩපල කරගන්නවා, පාඩුවෙ ඉන්නවා. අර තාපසයින් වහන්සේලාගෙ පිටිපස්සෙන් වැටීලා මැරීගෙන හිටපු එක නෑ. ඊටපස්සෙ මෙයා මිනිස්සුන්ගෙන් ඇහුවා මොකද මේ ගමට වුනේ. රජතුමා මේ ගමේ මිනිස්සුන්ට දඬුවම් දුන්නද, ගංවතුරක් ආවද, මොකක්ද වුනේ. ඊටපස්සෙ කිව්වා එහෙම එකක් වුන්නෑ, මේ ගමට ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ වැඩියා කිව්වා. ඊටපස්සෙ මෙයා කිව්වා, සම්මා සම්බුදු කෙනෙක්, මොකද මේ තාපසයින් වහන්සේලා අතර, බ්‍රාහ්මණයන් අතර ප්‍රසිද්ධයිනෙ දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් යුක්ත කෙනෙක් සම්මා සම්බුදු වෙනවා කියලා. ඉතින් මෙයා සම්මා සම්බුදු කෙනෙක්? ඔව්, සම්මා සම්බුදු කෙනෙක්. අන්න එයාට එකපාරටම නිර්වාණ ප්‍රතිපදාව කියන එක ඊළඟට ආවා. මොකද මෙයාගෙ හිතේ තියෙන්නෙ නිවන් දකින්න එකම ක්‍රමය නිර්මාංශ වීම. සුගතියේ යන, දෙව්ලොව යන, බ්‍රහ්මලෝකෙ යන, නිවන් දකින එකම ක්‍රමය මස් මාංශ වලින් තොරවීමයි කියන අදහස මෙයාගෙ තියෙන්නෙ. එතකොට මෙයා එකපාරටම ඇහුවා, ඔය වැඩිය සම්මා සම්බුදුයි කියන කෙනා මස් මාංශ කනවාද, ඊටපස්සෙ කියනවා අපේ මේ ගමට වැඩියට පස්සේ මස් හදලා දුන්නා, මාළු හදලා දුන්නා. උන්වහන්සේ වළඳනවා. මස් මාංශ වළඳනවා? ඊටපස්සෙ කිව්වා ඔව් කිව්වා. බුදු කෙනෙක් වෙන්න බෑ. කුණුවෙච්ච මස් බඩේ තියාගෙන මෛත්‍රී නම් කරන්න බෑ, බුදු කෙනෙක් නම් වෙන්න බෑ කිව්වා. ඊටපස්සෙ ආයෙත් මෙයාගෙ හිත ඇතුලෙන් එනවා, සම්මා සම්බුදුයි කියලා මෙච්චර කාලෙකට කෙනෙක් මට හම්බවුන් නෑනෙ, මිනිස්සු කියලත් නෑනෙ. අපේ වේද වේදාන්තර ග්‍රන්ථ වල මහා බ්‍රාහ්මණයෝ අපිට උගන්වලා තියෙනවානෙ සම්මා සම්බුදු කෙනෙක් පහළ වෙනවා කියලා. එතකොට මට ඒක ඇහුනෙ ඉස්සෙල්ලාම මෙහෙන්නෙ. ඊටපස්සෙ කිව්වා, කොහෙද ඉන්නෙ? ඊටපස්සෙ කිව්වා ආන්න අර දිසාවෙ, ශ්‍රාවස්තියෙ ඉන්නෙ. ඊටපස්සෙ මෙයා සැහැල්ලු පිරිකර අරගෙන, ගෝලයො පන්සීයත් එක්කම එක හුස්මට යනවා, කාරණා දෙකක් තියෙනවා. එකක් සම්මා සම්බුදුයි ද කියලා ඇත්තටම බලන එකයි, අනිත් එක තමයි සම්බුදු වුනා හෝ නැතා හෝ මේ මස් මාංශ කන එකට හොඳවයින් දෙකක් කියන්න ඕන කියලා තමයි තාපසයින් වහන්සේට කල්පනාවට ආවෙ. ඒ නිසා මේ දෙකෙන් එකක් කරගන්න ඕන

කියලා දැන් එක හුස්මට ගියා. එහෙම සැවැත්නුවරට ගිහිල්ලා, භාග්‍යවතුන් වහන්සේ එයාලා එන බව දන්නවානෙ. භාග්‍යවතුන් වහන්සේ එයාලා දොරටුවෙන් ඇතුල්වෙනකොටම ජේත තැනක, භාග්‍යවතුන් වහන්සේ ආසනයේ වැඩ හිටියා. අර තාපසයින් පන්සීයත් එක්කම ඇවිල්ලා මෙයා වැන්දෙ නෑ කෙලින්ම හිටියා, කතාබහකුත් නෑ. දැන් දැක්ක ගමන් මොකක්ද කියන්නෙ කියලත් මෙයාට හිතාගන්නත් බෑ. බුදුරජාණන් වහන්සේ ඇහුවා, තාපසය කොහොමද සුවසේ වැඩ ඉන්නවාද, මම නම් සුවෙන් කිව්වා. ඔබවහන්සේ අහවල් ගම් පළාතට වැඩිය ද? වැඩියා කිව්වා. ඊටපස්සෙ, මේ ඔබවහන්සේ, මං මේ අහන්නමයි ආවෙ. ඔබවහන්සේ ආමගන්ධය වළඳනවාද, ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා මොකක්ද ආමගන්ධය කියන්නෙ, මස් මාංශ කිව්වා. බුදුරාජාණන් වහන්සේ වදාළා මස් මාංශ ආමගන්ධය කියන එක ආර්යයන් වහන්සේලා සම්මා සම්බුදුවරු ආමගන්ධය කියලා පාවිච්චි කරන්නෙ මස් මාංශයට නෙවෙයි කිව්වා. ඊටපස්සෙ කිව්වා බ්‍රාහ්මණය, ඔබ ඔය අහන විදියෙම ප්‍රශ්නයක් මීට කලින් ලෝකයේ පහළ වුනු කාශ්‍යප තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේටත් මේ ප්‍රශ්නයම වෙලා තියෙනවා කිව්වා. ඊටපස්සෙ පුදුම සිද්ධියක් මේක, හොඳට කණ් යොමු කරගෙන අහන්න. ඊටපස්සෙ කාශ්‍යප තථාගත බුදුරජාණන් වහන්සේ මේ ලෝකෙ මනුස්සයන්ගේ ආයුෂ අවුරුදු විසිදාහක් තියෙන කාලෙ තමයි කාශ්‍යප බුදුරජාණන් වහන්සේ සම්බුදු වුනේ, උන්වහන්සේ සතර පෙර නිමිති දැකලා භාවනා කලා මාළිගාවේ. උන්වහන්සේගේ මාළිගාවේ උන්වහන්සේ ප්‍රධන්වීර්යය හොඳට වැඩුනා. ඊටපස්සෙ කල්පනා කලා මම කොහොමද උතුම් විමුක්තියක් උදෙසා යන්නෙ. මා ගෘහ ජීවිතය අත්හරින්නෙ කොහොමද කියලා හිතනකොට මාළිගාව එහෙම්මම අහසට ඉස්සුනා. ඉස්සිලා වජිරාසන භූමිය ළඟට ගියා. ඉතින් ඒ කාශ්‍යප මහාබෝධිසත්ත්වයෝ මාළිගාවෙන් බැහැලා ඊළඟට අඩිය තිබ්බෙ වජිරාසනය ළඟ. එතකොටම දෙවිවරු සිවුරු පිරිකර දුන්නා. සිවුරු පිරිකර ඇඳගෙන උන්වහන්සේ වජිරාසනයේ අසුන් ගෙන දවස් හතක් සමාධි සුවයෙන් වැඩ හිඳලා, දසමාර සේනා පරාජයට පත් කරලා, සම්මා සම්බුදු බවට පත්වුනේ කාශ්‍යප බුදුරජාණන් වහන්සේ. ඉතින් මහා බෝධිසත්ත්වයෝ මාළිගාවෙන් එළියට බහිනකොටම මාළිගාව ආයෙ තිබ්බ තැන පිහිටියා. අපේ මහාබෝධිසත්ත්වයන් වහන්සේ කන්ථක අශ්වයා පිට අභිනිෂ්ක්‍රමණය කලේ. ඉතින් ඒ කාශ්‍යප බුදුරජාණන් වහන්සේ කුමාර අවධියේ, සම්බුදු වෙන්න කලින්, ඒ කිකී රජමාළිගාවේම, කිකී රජ්ජුරුවන්ගේ

රජ මාළිගාවේම පුරෝහිතයටත් ළමයෙක් හිටියා තිස්ස කියලා. මේ තිස්සටත් ආරංචි වුනා කාශ්‍යප කුමාරයා අනාගතයේ සම්බුදු වෙනවා කියලා. ඉතින් මෙයා පුංචි කාලෙම කියනවා කාශ්‍යප අපි ගේ දාලා යං. ආයෙ ටිකක් ලොකුවෙනකොට ආයෙ අර කුමාරයා කියනවා තිස්ස, අපි යං. නමුත් පින්වතුනි කොච්චර යං යං කිව්වත් සෑම සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකටම සතර පෙර නිමිති දකින්නම ඕන. ඉතින් අරයට හරි හදිස්සියි. ඉතින් තිස්ස අර බෝධිසත්ත්ව කුමාරයා පුංචි කාලෙම එයා ගෙදරින් ගියා. එයා ගිහිල්ලා හිමාලයට වෙලා ඉන්නවා. එයාගේ තාපස කම තමයි මස් කන්නෙ නෑ, මාළු කන්නෙ නෑ. පිළිහිඩි කන්නෙ නෑ. ඒක තමයි එයාගේ තපස් චරියාව. ඊටපස්සෙ ඔහොම ඉන්නකොට කාශ්‍යප සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකෙ පහළ වුනා. ඊටපස්සෙ මහා වනයට ආපු මනුෂ්‍යයෙක් කිව්වා කාශ්‍යප තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකෙ පහළ වෙලා. ඊටපස්සෙ මෙයාටත් එක පාරටම මතක් වුනා, ඒ කාශ්‍යප තථාගතයන් වහන්සේ ආමගන්ධය වළඳනවාද. ඊටපස්සෙ කිව්වා, මොකක්ද ආමගන්ධය කියන්නෙ? මස් මාළු. අනේ උන්වහන්සේ වළඳනවා කිව්වා. මේක හරියන් නෑ මේ විදියට සම්බුදු වුනා කියලා මිනිස්සු මුලා කරන්න දෙන්නෑ කිව්වා මම. කියලා එක පයින් මෙයාලා පින විසින් ඉතින් මෙහෙයවන්නෙ. දන්නවද, තිස්ස ඒ බ්‍රාහ්මණයාගේ නම තිස්ස. ඒ තිස්ස කියන්නෙ අග්‍රශ්‍රාවකයන් වහන්සේ කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ. කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ අග්‍රශ්‍රාවකයා. මස් මාංශ කන්නැතිව කැලේකට වෙලා හිටියා. අර මස් මාංශ කනවා කීව හඬට ඒ තිස්ස තාපසයා එක හුස්මට ආවනෙ භාග්‍යවතුන් වහන්සේ හොයාගෙන. ඊටපස්සෙ එදත් කාශ්‍යප බුදුරජාණන් වහන්සේ ඉස්සරහ වැඩ ඉන්නවා. ඊටපස්සෙ ආපු ගමන්ම ඇහුවා ඔබ වහන්සේ ආමගන්ධය වළඳනවාද, මං වළඳන් නෑ කිව්වා. ශාස්තෘන් වහන්සේ කිව්වා මං වළඳන් නෑ කිව්වා. හරී හොඳයි කිව්වා. දැන් අඳුරගත්තා තමන් කාශ්‍යපයන් කියලා. අන්න හරි කිව්වා, ඔබවහන්සේ නම් සම්මා සම්බුදු වරයෙක්මයි කිව්වා. අනිත් එක අපේ රාජ පැලැන්තියටත්, තාපසකමටත් ගැලපෙනවා ආමගන්ධය වළඳන් නැති එක, බොහොම අගෙයි, බොහොම අගෙයි කිව්වා. දැන් ඉතින් ඒ තාපසයත් අයිනකට වෙලා, ගහක් යටට වෙලා ඉන්නවා. පහුවදා බුදුරජාණන් වහන්සේ පිණ්ඩපාතෙ වැඩියෙ නෑ. සංඝයා හැමදාම පිණ්ඩපාතෙ වඩින්න ඉස්සෙල්ලාම කුටියෙන් එළියට බහින්නෙ බුදුරජාණන් වහන්සේ. එතකොට සංඝයා එක එක්කෙනා එකතු වෙනවා. එදා බුදුරජාණන් වහන්සේ වැඩියෙ නෑ. මොහොතක් බලාගෙන ඉඳලා

සංඝයා පාත්තරය අරන් බුදුකුටිය පැදකුණු කරලා තමයි ඊටපස්සෙ තමයි පිණ්ඩපාතේ යන්නෙ. බුදුකුටිය පැදකුණු කරලා, ඒ කාලෙ තිබ්බ චාරිත්‍ර. සම්මා සම්බුදුවරුන්ට එච්චර ගෞරව. ඊටපස්සෙ රජතුමාට ආරංචි වුනා තථාගතයන් වහන්සේ පිණ්ඩපාතෙ වැඩියෙ නෑ කියලා. ඊටපස්සෙ දානෙ එව්වා. ඒ බුදුරජාණන් වහන්සේ දැනගෙනමයි එහෙම කලේ. එතකොට දානෙට තිබ්බෙ ඇල්හාලෙ බතුයි, ලිහිණි කුරුල්ලන්ගේ මස්. ඊටපස්සෙ දානෙ ටික දැන් ගෙනාවා. දානෙ ගෙනල්ලා ඒ බුදුරජාණන් වහන්සේගේ ඉස්සරහින් තිබ්බා. දැන් අර තාපසයා - තාපසයයි බුදුරජාණන් වහන්සේයි විතරයි දැන් අසපුවේ ඉන්නෙ. ඊටපස්සෙ තාපසයා කල්පනා කරනවා දැන් බලමුකො, වළඳයිද නැද්ද කියලා. බුදුරජාණන් වහන්සේ දැන් වෙනදා අනලා වළඳනවානෙ. බුදුරජාණන් වහන්සේ එදා දානෙ වළඳන්න කලින් මස් කෑල්ලක් වැළඳුවා. තරහා ගියා කියන්නෙ අර තාපසයාට. දැන් බලන්න මේ අද කාලෙ වගේමයි. සමහර මිනිස්සු ඉන්නවා වෙනම දානෙ ගෙවල් වලට යනවා හාමුදුරුවො මස් කනවද කියලා බලන්න. වෙනමම ඉන්නවානෙ. ඉතින් එහෙම ගිහිල්ලා හොඳට බලනවා, මොනවද දැන් මාළු ගෙනිච්චද, කොයි හාමුදුරුවො ද වැළඳුවේ, ඊටපස්සෙ එක හාමුදුරු නමක් අත වහපු ගමන් අනේ සිල්වත්. ඊළඟ හාමුදුරුවෝ ගත්තෙ නෑ, අනේ සිල්වත්. ඊළඟ හාමුදුරුවො පොඩි කෑල්ලක් දාන්න කියනවා. ම්හ්, අන්න. දැන් මෙයාලා බෙදද්දින් වෙන වෙනම මෙයාගේ හිතේ. අර වගේම කට්ටිය. හැබැයි ඉතින් මෙහෙමයි, මේ දෘෂ්ටි හිත්වල තියෙන්න පුලුවන්. දැන් මේ තාපසයින් වහන්සේතේ අග්‍රශ්‍රාවකයින් වහන්සේ නමක් වෙන කෙනෙක්නෙ. ඊටපස්සෙ බලාගෙන හිටියා මස් කෑල්ලයි ඇල් හාලෙ බතුයි වැළඳුවා. හොඳටම තරහා ගියා. බැන්නා, බැන්නා, බොහොම හොඳ නෑ කිව්වා, අපි හිතුවෙ නෑ ඔච්චර බොරුයි කියලා. ඒකාන්තයෙන් තේරෙනවා කිව්වා බුදු වෙලා නම් නෑ කිව්වා. බුදු වුනා නම් ඔහොම මස් කන්න බෑ කිව්වා, හිතෙන්නෙවත් නෑ කිව්වා. ඊටපස්සෙ මෙහෙන් බැනගෙන බැනගෙන ගිහිල්ලා එයා කියනවා මේ විදියට. කියනවා, මෙනේරි, මුංඇට, තලගුලි, කොළ, දළු, අල, මුල්, රුක් එල මේවා තමයි දැහැමින් ලැබුනු දේවල්. දැහැමින් සැනසුනු උදවිය වළඳන්න ඕනවෙන්නෙ. එතකොට කම්සැප අත්හැරපු ශ්‍රමණයෝ මේ විදියට කරන්න ඕන. මතක තියාගන්න ඕන, බොරු කියන්න එපා. දැන් ඊයෙ කිව්වා ආමගන්ධය වළඳන් නෑ කියලා. දැන් අද මේ මං දැක්කානෙ, බොරු කියන්න එපා. ඊයෙ කිව්වා ආමගන්ධය වළඳන් නෑ කියලා, දැන් අද වළඳනවා. ඒ නිසා බොරු කියන්න හොඳ නෑ ශ්‍රමණයන් වහන්සේලා. ඊටපස්සෙ කිව්වා, සොඳුරු ලෙස පිසින ලද,

මියුරු රසයෙන් පිරුණු සුවඳ හැල් බත් අනුන් දනට දුන් විට, ඉතින් යම්කෙනෙක් වළඳයිද ඒ බත, සො භුඤ්ජති කස්සප ආමගන්ධං, කස්සපයිනි - දැන් බුදු කෙනෙක් කියන හැඟීම නෑ. කස්සපයිනි, ඒ වාගේ ඇල් හාලේ බතට මස් මාළු වළඳන අය තමයි ආමගන්ධය වළඳන්නෙ, ඒකටයි ආමගන්ධය කියන්නෙ. ඊටපස්සෙ න ආමගන්ධො මමකප්පතීති ඉච්චෙව ත්වං භාසසි බ්‍රහ්මබන්ධු:, බ්‍රාහ්මණ ආගමේ අපි කවුරුත් දැන් එයාට අරකෙ සංඥාවනේ තියෙන්නෙ. එතකොට ඔබම කිව්වා මම ආමගන්ධය වළඳන් නෑ, මට ඒක කැප නෑ කියලා. සාලීනමන්තං පරිභුඤ්ජමානො සකුන්තමංසෙහි සුසංඛතේහි, දැන් ඔය යසට ඇල්හාලෙ බතට ලිහිණි මස වළඳන්නෙ. ඊටපස්සෙ මෙහෙම කියනකොට කියනකොට බුදුරජාණන් වහන්සේ නිහඬව වැඩහිටියා. කාශ්‍යප බුදුරජාණන් වහන්සේ රන් රුවක් සේ බැබළෙමින්. ඒ මූණෙ කිසීම වෙනසක් නෑ, එතකොට ඒ සුන්දර මුවමඬලේ සුදුම සුදු පාටින් ඇහිබැම් දෙක අතර ඌර්ණ රෝමධාතුව තියෙනවා. පින්වතුනි ලොව්තුරා සම්බුදු කෙනෙකුට ඌර්ණරෝම ධාතුව පිහිටන්නෙ පළවෙනි විවරණ ගත් දා පටන් ඇත්ත කතා කිරීම නැමැති පිනේ විපාක විදියට තමයි ඌර්ණරෝම ධාතුව පිහිටන්නෙ. අපේ බුදුරජාණන් වහන්සේ අසංඛෙයය හතරකුත් කල්ප ලක්ෂයක් සත්‍යයම කතා කරපු නිසා සුදුපාට ඌර්ණ රෝම ධාතුව පිහිටියා. ඒ ඌර්ණ රෝම ධාතුව දැන් මිහින්තලා සෑයෙ වැඩ ඉන්නෙ. අෂ්ටවංක මාණික්‍යය ඇතුලේ. කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ සුදුපාට ඌර්ණරෝම ධාතුව ඇහිබැම දෙක අතර තියෙනවා දැකලා ආයෙත් අර තිස්ස බ්‍රාහ්මණයාට, තිස්ස තාපසයට එකපාරටම අර බුදු කෙනෙක්දෝ කියලා ආයෙත් හිතුනා. ඊටපස්සෙ මෙයා අහනවා පුච්ඡාමි තංකස්ස පේතමත්තං කතං පකාරෝ තවාමගන්ධෝ. මෙයාට හිතුනා මට ආමගන්ධය කැප නෑ කියලා ඊයෙ කිව්වෙ වෙන අදහසකින්ද දන්නෑ. දැන් මොකද මේක ආමගන්ධය කියන්නෙ මස් මාළු කියලා කතාවක් ගියෙ නෑනෙ කාශ්‍යප බුදුරජාණන් වහන්සේත් එක්ක. ඒ නිසා වෙන අදහසින්ද දන්නෑ. ඒ නිසා ඇහුවා මේ ඔබ ආමගන්ධය කියලා කිව්වෙ වෙන මොකකට හරි ද කියලා. බලන්න බුදුරජාණන් වහන්සේගේ අකම්පිත බව ඉදිරියේ තමයි ඔහු දමනය වෙන්නෙ. ඊටපස්සෙ කියනවා, පාණාතිපාතෝ, කාශ්‍යප බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා. දැන් කාශ්‍යප බුදුරජාණන් වහන්සේ මෙසේ දේශනා කලේ කියලා අපේ බුදුරජාණන් වහන්සේ තමයි විස්තර කරන්නෙ, අර ආමගන්ධ බමුණාට. පාණාතිපාතෝ වදඡේති බන්ධනං, කියනවා ප්‍රාණඝාතය අන් අයට වද දෙන එක, මිනිසුන්ගේ අත් කන් නාසාදිය කපන එක, සිර කරන එක,

සොරකම, බොරු කීම, රැවටීම, වංචාව, ක්‍රෝධය, ක්‍රෝධයෙන් පුපුරා පුපුරා ඉන්න එක, පරදාර සේවනය, ඉතින් එසාමගන්ධො න හි මංසභොජනං, ඒක තමයි කිව්වා ආමගන්ධය කියන්නෙ. මාංස භෝජනය නෙවෙයි කිව්වා. මස් මාළු කන එක නෙවෙයි කිව්වා. එතකොට යම්කිසි කෙනෙක් මස් මාළු නොකා හිටියත්, සත්තු මරනවා නම්, සත්තුන්ට වද පීඩා දෙනවා නම්, බොරු කියනවා නම්, අනුන් රවටනවා නම්, වංචා කරනවා නම්, ක්‍රෝධයෙන් ඉන්නවා නම්, පර අඹුවන් සේවනය කරනවා නම් එහෙම නෙවෙයි කොළ දිය කරලා බිව්වත් එයා ආමගන්ධයෙන් යුක්තයි. ඊටපස්සෙ දේශනා කරනවා කම්සැපයෙහි විකල් වුන යෙ ඉධ කාමෙසු අසඤ්ඤතා ජනා, ජනයා ඉන්නවා කාමයෙන් අසංඥතයි, ඒ කියන්නෙ විකෘති කාමාශාවන්ගෙන් යුක්තයි. මේ ලෝකයේ කාමයටත් සංයමයක් කියලා එකක් තියෙනවා. එතකොට සාමාන්‍යයෙන් කාමයේ තියෙන සංයමය තමයි විවාහ වෙනකල් කාම ඇසුරක් ලබන් නෑ. එතකොට විවාහ වෙනකල් යම්කිසි දුවෙක් හෝ පුතෙක් හෝ කාමය කෙරෙන් මුසපත් වෙලා ඉන්නවා නම් එයාලගේ කාමය කෙරෙහි සංයමයක් නෑ. එයාලා කාමයෙන් මුසපත් වෙලා ඉන්නෙ. ඊටපස්සෙ විවාහ වුනාට පස්සෙ කාමයේ තියෙනවා තමන්ගේ ස්වාමියා හෝ බිරිඳගෙන් පමණයි සතුටු වෙන්නෙ. එතනින් එහා තියෙන සියල්ල කාම විකෘතිය, කාමයේ අසංඥත භාවය කියන එක, කාමයෙන් මුසපත් වෙලා. ඊළඟට ඒක තමන්ට බිරිඳක් තෝරාගැනීමේදීත් තියෙනවා. පිරිමියෙක් තමන්ට බිරිඳක් විදියට තෝරගන්නෙ කාන්තාවක්. ඒ කාන්තාව තමන්ට වැඩිය වයසින් අඩු, ඊළඟට ඒ වාගේ තියෙනවා. එතකොට ඒ සීමා බන්ධන ඉක්මවා ගියා කියන්නෙත් ඒකට කියන්නෙ විකෘති කාමාශා. එතකොට මේවා තමයි පිළීගඳ. ආමගන්ධය කියන්නෙ පිළී ගඳ. ඒවා තමයි පිළිහිඩි. රසෙසු ගිද්ධා අසුචීකමිස්සිතා, අකුසල් සමඟ එක් වන රසයේ ගිජු බව. රසයට ගිජු වෙලා ඉන්නවා, එය මුල් කරගෙන පව් කරනවා. ඊටපස්සෙ දහමක් වැටහෙන් නෑ, පින් පව් අදහන් නෑ. නත්ථිකදිට්ඨී විසමා දුරන්නයා, ඉතින් පින් පව් කියලා දෙයක් එයා පිළිගන් නෑ. නත්ථික දිෂ්ටියෙන් යුක්තයි. මෙයා මැරුණට පස්සෙ ඔක්කෝම ටික මැරිලා යනවා, ඒ නිසා ඉන්න කාලෙ ඔය ඕන එකක් කරපල්ලා බං කියනවා. එසාමගන්ධො න හි මංසභොජනං, මේවා තමයි පිළිහිඩි, පිළී ගඳ කියන්නෙ. මාංස භෝජන නෙවෙයි. යෙ ලුඛසා දාරුණා පිට්ඨීමංසිකා, කෙනෙක් ඉන්නවා හරි දරදඬුයි, නපුරුයි. පිට්ඨීමංසිකා කියලා කියන්නෙ කේලම් කියනවා. පිටිමස් කනවා කියන්නෙ හොඳට ඉන්නවා, ඊටපස්සෙ පිටිමස් කනවා කියන්නෙ තමන්ගෙම අත දාලා පිටේ මස් කඩ කඩා

කනවා. හොඳට ඉන්නවා. ඉස්සරහින් එකක්, එයා නැති තැන වෙන එකක්. පිටි මස් කනවා. ඉස්සරහින් වදිනවා පුදනවා. හැරුණට පස්සෙ මස් කඩ කඩා කනවා. කේලම් කියන එකටයි, ගුණමකු කමටයි, කුහක කමටයි, ඔය ඔක්කොම යෙදිච්ච තැන තමයි පිටිමස් කනවා කියන්නෙ. මිත්තද්දුනො, මිත්තද්දුනො කියලා කියන්නෙ මිතුරන්ට ද්‍රෝහී, ඊළඟට කරුණාවක් නෑ. මාන්නයෙන් යුක්තයි. අදානසීලා න ච දෙන්ති කස්සචි, දානයක් මානයක් මොකුත් දෙන්නෙ නෑ. ලෝභකමින් ඉන්නවා. දැන් මේක විස්තර කරගෙන යනකොට තියෙනවා අදින්න පුබ්බකගේ පරම්පරා හතක් ඉන්නවා කියලා කියන්නෙ කුප්පිපාසිත පෙරේත ලෝකෙදි. පිපාසය, බඩගින්න සන්සිඳෙන් නෑ කිසිම විදියකට. අදින්න පුබ්බක පවුලේ සියලු දෙනා ඉපදිලා තියෙන්නෙ පෙරේත ලෝකෙ. නොදීම නිසා. ඒකනෙ මට්ටකුණ්ඩලී ට කරාඹු දෙක තලලා දැම්මෙ. ඊට පස්සෙ එතකොට අර මැරිච්ච මැරිච්ච එකා පෙරේත ලෝකෙ ඉන්න එකත්, පරම්පරාවට යනවා ඇති. ඒ වුනාට බලන්න, ඒ පරම්පරාව එතනින් කැඩුනානෙ මට්ටකුණ්ඩලී නිසා. මට්ටකුණ්ඩලී නිසා පරම්පරාවේ චාරිත්‍රය කැඩුනනෙ පෙරේත ලෝකෙ යන එක. ඔහුත් දෙව්ලොව ඉපදුනා බුදුරජාණන් වහන්සේට පැහැදිලා. දෙව්ලොව ඉපදුනාට පස්සෙ තාත්තව බේරගත්තානෙ තාත්තා සෝවාන් වුනා. එතකොට එක්කෙනෙක් ගැලවුනා නම් සරණෙට ඇවිල්ලා. දැන් පින්වතුනි මේ පෙරේත ලෝක වල, අපායවල් වල යන ඒවා යනවා එක දිගට. ඒ පරම්පරාවක එක්කෙනෙක්වත් ගලවගන්න අය නෑ. මොකද තමන්ගේ පරම්පරාවෙන් එක්කෙනෙක් ගියොත් එහෙම දිව්‍ය ලෝකෙකට, බ්‍රහ්ම ලෝකෙකට පිහිටක් තියෙනවා. මොකාක්හරි පිහිටක් තියෙන්න පුලුවන්. යම් සම්භාවිතාවයක් තියෙනවා. දැන් බලන්නකො කෝකාලික නිරයේ යනකොටත්, ඊටකලින් ඔහුගේ ගුරුවරයා තුදූ කියන භික්ෂූන් වහන්සේ ඔහුගේ ගුරුවරයා බ්‍රහ්මයෙක් විදියට ඇවිල්ලා සිහිය පිහිටුවන්න උත්සාහ කලානෙ. ඔහු කරගත්තෙ නැතිවුනාට. දැන් මේ නිසා තමයි මට්ටකුණ්ඩලීගෙ පවුලේ අදින්න පුබ්බකගෙ පවුලේ පරම්පරා ගාණක් පෙරේත ලෝකවල ඉන්නෙ අර මට්ටකුණ්ඩලී දෙව්ලොව ගිය නිසා බේරුනා. ඊට පස්සෙ තියෙනවා එසාමගන්ධො න හි මංසභොජනං, ඔය ලෝභකම දෙන්නැති එක තමයි කියනවා අනිත් අයට දෙන්නැති එක, විසි කරන එකක්වත් දෙන් නැති එක, ඒවා තමයි කියනවා ආමගන්ධය, පිළිහිඩි, මස් මාංශ නෙවෙයි කියනවා. කොධො මදො ථම්භො පච්චුපට්ඨාපනා ච, ක්‍රෝධය, මදය දැඩි බව, එකට එක කිරීම, මායාව, ඉරිසියාව, පුරසාරම් දෙඩීම, මාන්නයෙන් ඉදිමීම, දුදනන් සමඟ ඇසුර,

මේවා තමයි එසාමගන්ධො න හි මංසභොජනං, ඒවා තමයි ආමගන්ධය, මස් මාළු කන එක නෙවෙයි. මස් මාංශ කන එක නෙවෙයි මේ පිළිහිඩි කියන්නෙ. පිළී ගඳ කියන්නෙ. පිළී ගඳ කියලා කියන්නෙ පින්වත්නි මේ කෙලෙස්. ක්‍රෝධයෙන් කොච්චර තරහින් ඉන්නවාද, මදය, දැඩි බව, එකට එක කිරීම, මායාව, එතකොට ඉරිසියාව, පුරසාරම් දෙඩීම, මාන්නය මේවත් එක්කයි ඉන්නෙ. ඉතින් ඒ නිසා ලේසි නෑ, මනුෂ්‍යයන්ගේ ගතිගුණත් එක්ක. ඒ නිසා පුරුදු පුහුණු වෙන්න ඕන තමන්ගේ ගතිගුණ හදාගන්න. මේ කටින් ඇතුලට ඔබ්බවන එක ගැන නෙවෙයි, කටින් එළියට යන ඒවා ගැන පරිස්සම් වුනා නම් හොඳ නැද්ද? දැන් ඔක්කෝම ඇතුල දාන එක තමයි පොඩ්ඩක් බලන්නෙ. ලේසිනෙ ඒක. මේකෙන් එළියට විසි වෙන ටික, ඊටපස්සෙ තියෙනවා යෙ පාපසීලා ඉණඝාතසූචකා, ගතිගුණ නරක අය ඉන්නවා. ඊටපස්සෙ තව පිරිසක් ඉන්නවා ගතිගුණ නරක වීම, ණයක් අරන් ආයෙ දෙන් නෑ. ඊළඟට වොහාරකූඨා ඉධ පාටිරූපිකා, කූට ගණුදෙනු තියෙන අය ඉන්නවා හොඳ වෙළෙන්දො විදියට. ඊටපස්සෙ මේවා තමයි අධම ක්‍රියා කියනවා. නරාධමා යෙ ඉධ, මේක තමයි නරයන්ගේ අධම දේවල්. කරොන්ති ඉකිබ්බිසං, බොහෝ පව් කරලා මේ අයට මොකක්ද වෙන්නෙ, නිරයේ උපදිනවා කියනවා. මේ නිරයේ උපදිනවා කියනවා. මේවා තමයි පිළීගඳ කියන්නෙ. මස්මාංශ භෝජනය නම් නෙවෙයි. ඊටපස්සෙ තියෙනවා යෙ ඉධ පාණේසු අසඤ්ඤතා ජනා, මේ ජනයා ඉන්නවා ප්‍රාණීන් කෙරෙහි අසංඥත අය. කරුණා, මෛත්‍රියක් නෑ, දයාවක් නෑ. ඉතින් අනුන්ගේ දේ රැගෙන ඔවුන් හටම වද වේදනා දෙනවා. දැන් ඔය ඒකනෙ. මිනිස්සුන්ගෙ ඡන්දයම අරන් මිනිස්සුන්ටම වද දෙන මැති ඇමැතිවරු නැද්ද? නායකයො නැද්ද? ඊටපස්සෙ තියෙනවා දුශ්ශීලා, දුශ්ශීලලුද්දා එරුෂා අනාදරා, දුශ්ශීල, කුරිරු, නපුරු බස් ඇති, දයාවක් නැති, අනාදර වූ. එසාමගන්ධො න හි මංසභොජනං, මේක තමයි ආමගන්ධය, මස් මාංශ භෝජනය නෙවෙයි. එතෙසු ගිද්ධා විරුද්ධාතිපාතිනො, කියනවා ගිජුව මේ අය ගැන විටෙක සතුන් වනසන, පව්ම නිති කරන මේ අය වැටෙති අඳුරට. පොළොව යටිකුරු කොට ඇද වැටෙති නිරයට. මේවාය පිළගඳ, මස් බොජුන් නම් නොවේ. මස් මාංශ නම් නෙවේ කියනවා මේ තියෙන ගිජු බව, ඊලඟට නිති පව් කරන එක, අනිත් අය නසන්න තියෙන එක කල්පනා කරන එක, මේවා තමයි කියනවා මස් පිළීගඳ. ඊළඟට මාළු මස් කිසි දෙයක් නොමකන, ඔන්න කෙනෙක් ඉන්නවා මාළු මස් කිසී දෙයක් කන්නෙ නෑ. නග්න සිරුරින් ඉන්නවා. මුඩු හිසින් ජටාමඩුළු දරාගෙන ඉන්නවා, මුඩු හිසින්. ජටා මඩුලු දරාගෙන හෝ තාපසයො ඉන්නවා

ඇඳුම් අඳින්නෙත් නෑ, මස් මාංශය දිහා බලන්නෙවත් නෑ, තාපසකම. ඊටපස්සෙ ධරමිං ගෝනසං, අළුත් තවරාගෙන ගිනි දෙවියන් පුදන, සම් තමයි අඳින්නෙ, තවත් තාපසයො කොටසක්, අළු ඇඟේ තවරා ගන්නවා. ගිනි දෙවියෝ පුදනවා. ලොවේ තිබෙන නොයෙක් අමර තපස් රකින, මේ ලොවේ උතුම් උතුම් කියලා කියන හැම තාපසකමක්ම කරනවා. යාගහෝම මන්තර ඍතුගුණ සොයන නමුත්, නැකැත් සාස්තර ඔක්කොම තේරෙනවා. නැකැත්, නිමිති, ඒවා ඔක්කෝම තේරෙනවා, යාග මන්තර, ශාන්තිකර්ම ඒවා ඔක්කොම තේරෙනවා, මස් මාංශ මොනවත් කන්නෙ නෑ. මේ කිසිම දේකින් කිසිදා පිරිසුදු නොකරත්. හැබැයි මේ කිසිම දේකින් නම් මනුස්සයෙක් පිරිසිදු වෙන් නෑ. සැකයෙන් එතෙර නොවුන කෙනා, සැකයෙන් එතෙරට යන්නෙත් නෑ එයා. ඊළඟට ඒ නිසා හොඳටම මතක තියාගන්න, නිර්වාණ, සබ්බත්ථ ගාමිණී පටිපදා ඥාණය කියලා බුදුරජාණන් වහන්සේට තියෙනවානෙ. මේක කලොත් කොහෙටද මෙයා  යන්නෙ කියන එක බුදුරජාණන් වහන්සේනෙ දන්නෙ. සිදුවිය හැකි දේ, නොහැකි දේ පිළිබඳව ඥාණය, ඨානාඨාන ඥාණය තියෙන්නෙ බුදුරජාණන් වහන්සේටනෙ. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කළා නම් මේවා නිසි නිවන් දකින්නෙ නෑ කියලා, නෑම තමයි. මේවා නිසා සුගතියකට වත් යන්නෑ කියලා වදාළා නම් නෑම තමයි. එතකොට මේකෙ තියෙනවානෙ මස් මාංශ කන්නැතිව, තපස් රැක රැක මේ විදියට යාග හෝම මන්තර නැකැත් නිමිති, ශාන්ති කර්ම කර කර ඉන්නවා, එයා හිතා ඉන්නෙ එයා පිරිසිදුයි කියලා. පිරිසිදු නෑ කිව්වා. එතකොට මේ බුදු කෙනෙක් දේශනා කරන්නෙ. මේ දේශනාව බුදුවරු දෙන්නෙක්ගේ මුවින් පිටවුනා. කවුද ඒ පළවෙනියෙන් දේශනා කලේ, කාශ්‍යප බුදුරජාණන් වහන්සේ. ඊළඟට ඒ දේශනාව ආපහු කවුද කලේ, අපේ බුදුරජාණන් වහන්සේ. නෑම තමයි. ඊටපස්සෙ ඉඳුරන්ද රැකගෙන ලොවේ ඇති තතු දහමෙහි හැසිරෙන සඳහම් තුළම රැදෙමින මුදු ඇද නැතිව සිටිමින කෙලෙස් දුරු කරමින දුක් සියල්ලම නසා දමමින අසන දකින කිසිම දේකට නොම ඇලින මුණිතුමා නුවණැති. මුණිවරයෙක් වෙන්න නම් ඉඳුරන් රැකගන්න ඕන. ලොවේ සත්‍ය දහම අවබෝධ කරගන්න ඕන. ඊළඟට සඳහම් තුළම රැදිලා ගොඩාක් හිත මෘදු වෙන්න ඕන, මේ අනිත් අයට ගරහා ගරහා යන්නැතිව. තමන් හරියි කියලා, ඒක නැතිව මෘදු වෙන්න ඕන. ඊළඟට ඍජු වෙන්න ඕන, ඊළඟට කෙලෙස් දුරු කරන්න ඕන. දුක් නසන්න ඕන. කිසිම අහන දකින දේකට නොඇලී ඉන්න ඕන. එතකොට තමයි මුණිවරයෙක් බිහි වෙන්නෙ. ඊටපස්සෙ දේශනා කරනවා පැවසූ සේක මේ කරුණ. ඉච්ඡෙව මත්ථං භගවා

පුනප්පුනං, නැවත නැවතම බුදුරජාණන් වහන්සේ දේශනා කලා, මස් මාංශ කන එක නෙවෙයි පිරිසිදු කම කියන්නෙ කියලා. අක්ඛාසි නං වෙදයි මන්තපාරගු, මන්ත්‍රයන්ගෙන් ඉහළටම දත් බමුණු තෙම මේක දැනගත්තා කියලා කියනවා. චිත්‍රාහි ගාථාහි මුනී පකාසයි නිරාමගන්ධො අසිතො දුරන්නයො, පිළී ගඳින් තොර හැම පවින් තොර ඉගෙන ගත යුතු කිසිවකුත් නැති මුණිරජාණෝ මේ වදාළෝ මියුරු ගාථාවෙන්. මිහිරි ගාථාවෙන්. දැන් වුනත් මම මේ කාරණාව කියනකොට මගේ වචන නිසා සමහර කෙනෙකුට සැරයි වගේ වචනයක් හරි යන්නැති. බුදුරජාණන් වහන්සේ මේ විස්තරය කියනකොට මිහිරිම ගාථා, මිහිරිම වචන, මිහිරිම පද, මිහිරිම අර්ථ, කාශ්‍යප බුදුරජාණන් වහන්සේ පැහැදිලි කරලා දුන්නා මුණිවරයෙක් වෙන්නෙ මෙහෙමයි. මේ වගෙන් නෙවෙයි, මස් මාංශ නොකන එකෙන් නෙවෙයි පිරිසිදු බව කියලා. පින්වතුනි මස් මාංශ නොකනවා කියන එක දෙව්ලොව යාමටවත්, බඹලොව යෑමටවත්, මාර්ග ඵල ලැබීමටවත් කිසිම තැනක හේතුවක් කියලා දක්වලා නෑ. මස් මාංශ නොකන එක හොඳයි, විශේෂයෙන් අද කාලෙ වගේ, මේ නිකං බොයිලර් මස් වර්ග කකා නිකං ලෙඩදුක් හදාගන්නවාට වැඩිය නොකා ඉන්න එක දාහෙන් සම්පතක්. හැබැයි මෙයින් තමන් පිරිසිදුයි කියලා හිතන එක, තමන් හොඳ ගුණවතෙක් කියලා හිතන එක මිත්‍යා දෘෂ්ටිය. මිත්‍යා දෘෂ්ටිය මුල් කරගෙන සත්ත්වයෙක් මැරුණට පස්සේ නිරයේ යනවා, නැත්නම් තිරිසන් ලෝකෙ යනවා. නිකං අහක යන කුණු දාගන්න ඕන නෑ. ඒ වාගේ අන් අය ඒවාගේ සමාදන් කරවීම, මිත්‍යා දෘෂ්ටිය සමාදන් කිරීමක්. ඒක වරදවා ගන්න එපා, මං මේ කිව්වේ මස් මාංශ නොකා ඉන්න එක හොඳයි, මස් මාංශ නොකා ඉන්න එක තුළින් මනුස්සයෙක් පිරිසිදු වෙනවා, ගුණවත් වෙනවා කියලා හිතන එක මිත්‍යා දෘෂ්ටිය. අසාගෙන බුදු සමිඳුන්ගේ මේ සුභාෂිත පද පිළිගදෙන් තොර සියලු දුක් නිති නසාලන නමාගෙන සිත තථාගත මුනිඳුන්ට වැඳගෙන, එතනදීම ඉල්ලීය අවසර ලබන්නට උත්තම පැවිදි බව. ඊටපස්සෙ තිස්ස බ්‍රාහ්මණයා, එහේම්මම එතන දණ ගැහුවා. දණ ගහලා ස්වාමීනී මාව පැවිදි කරගන්න, මාව ආමගන්ධයෙන් තොර කරගන්න කියලා කිව්වා. එහෙම කියලා  බුදුරජාණන් වහන්සේ ළඟ දණ ගහලා වැන්දා. වදිනකොට ඒ බුදුරජාණන් වහන්සේ 'පින්වත් භික්ෂුව මෙහි එන්න, ස්වාක්ඛාත ධර්මයේ හැසිරෙන්න' කියලා ශ්‍රී හස්තය දික් කලා. එතකොට අර තාපසයෝ ඒ තිස්ස කියන තාපසයින් වහන්සේ කෙස් රැවුල් බැවිලා පාත්‍ර සිවුරු දරාගත්ත භික්ෂූන් වහන්සේ නමක් බවට පත්වුනා. ඉතාමත් සුළු කාලෙකින් අර්හත්වයට

පත්වුනා. කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ අග්‍ර ශ්‍රාවකයින් වහන්සේ බවට පත්වුනා. තිස්ස භාරද්වාජ කියලා අග්‍ර ශ්‍රාවක දෙනම වහන්සේ, කාශ්‍යප බුදුරජාණන් වහන්සේට වැඩ ඉන්න. එතකොට බලන්න මස් මාංශ කනවා කියන සම්බන්ධයෙන් ඇතිවෙච්චි දේ. එතකොට කුසල් මේකයි අකුසල් මේකයි, යහපත මේකයි අයහපත මේකයි කියලා බුදුරජාණන් වහන්සේනේ කියලා දුන්නෙ. නැත්නම් අපිත්, මමත් කරලා තියෙනවා. මමත් කාලයක් මස් මාංශ වලින් වැළකිලා මේකයි පිරිසිදු, මේකයි හොඳම ගුණධර්ම, මේකෙනුයි නිවන් දකින්නෙ කියලා අපිත් හිතලා, අපිත් පුරුදු කරලා තියෙනවා. ඒ වුනාට අපි දැනගන්න ඕන යහපත් දේ. ඇත්ත දැනගන්න ඕන. නිකම් බොරුව ප්‍රෝඩාව නෙවෙයි. ඉතින් බුදුරජාණන් වහන්සේ සරණ ගියොත් තමයි මේකෙන් පිහිට තියෙන්නේ කියන එකයි මේ කියන්නෙ. මේ සූත්‍රය දේශනා කලේ මේ ටික අහලා මස් කාපල්ලා කියලා නෙවෙයි. අකුසල් දුරු කරපල්ලා කියලා. බුදුරජාණන් වහන්සේයි මේක දන්නෙ. බුදුරජාණන් වහන්සේට ජීවක, ඊටපස්සෙ මේ දේශනාව කරපු ගමන් ආමගන්ධ බ්‍රාහ්මණයා පන්සීයක් තාපසයින් වහන්සේලා සමඟ අපේ බුදුරජාණන් වහන්සේ ළඟ ඒහිභික්ෂු භාවයෙන් පැවිදිව අර්හත්වයට පත්වුනා. ඉතින් මේ මස් මාංශ නොකා ඉන්න එකයි නිවන් මාර්ගය කියලා දැඩිව ග්‍රහණය කරගත්ත, මස් මාංශ කන එක මුල් කරගෙන බුදුරජාණන් වහන්සේත් එක්ක හැප්පෙන්න ආපු අය බුදුරජාණන් වහන්සේගේ මේ දේශනාව අහලා අර්හත්වයට පත්වුනා. ඒ නිසා මේ දේශනාව අහලා හිතවත් දෘෂ්ටිය යහපත් දේවල් ඇති කරගන්න. දෘෂ්ටියේ යම් දෝෂ තියෙනවා නම්, මොකද අපිට ඕනෙ සරණ. මොකද උපාසකම්මලා අනේ කියනවා අනේ හාමුදුරුවනේ අපි හරී සිල්වත්. අපි උම්බලකඩයක් වත් කන්නෙ නෑ. උයන්නවත් කියන් නැලූ. ඉතින් ඒ විදියට තමයි ඉන්නෙ අමුතු විදියට. ගුණධර්මයක් කියලා සමහර අය මැරිච්ච අයගේ අනේ ඔය හරී හොඳ කෙනෙක්, උම්බලකඩයක් වත් කෑවෙ නෑනෙ හාමුදුරුවනේ. ඔහොම තමයි මැරිච්ච අයගේ ගුණ කියන්නෙ. මොකක්ද දන්නෙ නෑ, එහෙම නෙවෙයි කතා කරපු වචන කියන්නකො. අනේ එයා බොරු කිව්වෙ නෑ. කේලම් කිව්වෙ නෑ. පරුෂ වචන කිව්වෙ නෑ. හිස් වචන කිව්වෙ නෑ. හතර පෝයට සිල් ගත්තා. මෙයා බුදුරජාණන් වහන්සේ සරණ ගිය උපාසකයෙක්. එහෙම කියන්නකො. ඒවා නෙවෙයි කියන්නෙ. මේ මස් මාංශ කතාවක්. ගෞතම බුදුරජාණන් වහන්සේගෙන් ජීවක ඇවිල්ලා ඇහුවා, ස්වාමීනී, මේ ඔබ වහන්සේ මස් මාංශ කනවාය කියලා හරියට රාවයක් යනවා. ඔබවහන්සේටම සත්තු මරලා, ඔබවහන්සේත් ඒවා දැනගෙනම ඒවා කනවා

කියලා මිනිස්සු රජගහනුවර කතා කර කර යනවා කිව්වා. ඇත්තටම භාග්‍යවතුන් වහන්සේ අනේ ඔය පව්කාර වචන වලට අපි පැහෙන්න කැමැතිත් නෑ. නමුත් මට හිතුනා බුදුරජාණන් වහන්සේගෙන් මේක අහන්න ඕන කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා තථාගතයන් වහන්සේ උදෙසා දැන දැන සතෙක් මැරුවා කියලා දැනගෙන බුදුරජාණන් වහන්සේ ඒ දානෙ වළඳනවා කියන එක සිදුවිය නොහැකි දෙයක්. කවුරුහරි එහෙම කියනවා නම් ඒක වැරැද්දක් කිව්වා. ඒක අභූත චෝදනාවක් කිව්වා. කිව්වා පින්වත් ජීවක, නොවැළඳිය යුතු මාංශයක් තියෙනවා කාරණා තුනකින්. ඒ තමයි තමා උදෙසා මැරුවා කියලා තමන් දන්නවා නම්, තමන් උදෙසාමයි මැරුවේ කියලා තමන් අහලා තියෙනවා නම්, තමන් උදෙසාමයි මේ සතා මරලා මට උයලා තියෙන්නේ කියලා සැකයක් හිතුනා නම් ඒ මාංශය වළඳන්න හොඳ නෑ. ඒක අකැපයි. ඊටපස්සෙ තමන් උදෙසා සතෙක් මැරුවා කියලා තමන් දන්නෙ නෑ. අපි හිතමුකො දානෙකට හාල්මැස්සො ටිකක් හදනවා. එතකොට ඒ හාල්මැස්සො මාළු අල්ලන මනුස්සයා අහවල් පන්සලේ අහවල් හාමුදුරුවන්ට දානෙ දෙන්නයි මේ හාල්මැස්සො ටික අල්ලන්නෙ කියලද අල්ලන්නෙ. එතකොට ඒ මස් මාංශ මරලා තියනේනෙත් ඒ හාමුදුරුවො උදෙසාත් නෙවෙයි. එතකොට තමා උදෙසා මරනවා කියලා දන්නෙත් නැත්නම් අහලත් නැත්නම්, සැකත් නැත්නම්, ඒ මාංසය වළඳන්න අකැප නෑ. ජීවකට වදාළේ මජ්ඣිම නිකායේ ජීවක සූත්‍රයේ. ඊලඟට බුදුරජාණන් වහන්සේ වදාළා ඔන්න පින්වත් ජීවක මෙහෙම හිතන්න. ඔන්න මෛත්‍රියෙන් කරුණාවෙන් යම්කිසි භික්ෂුවක් මෛත්‍රියෙන් වාසය කරනවා. එතකොට ඒ මෛත්‍රියෙන් වාසය කරන භික්ෂුව, යම්කිසි ගෙදරක දානෙට වඩිනවා. ඒ දානෙට වඩිනකොට මේ අය හොඳට ප්‍රණීතව මස් මාංශත් එක්ක දානයක් මට දෙත්වා කියලා ඒ භික්ෂුවට හැඟීමකුත් නෑ. ඒ භික්ෂුව මෛත්‍රියෙන් ඉන්නෙ. ඊටපස්සෙ ඒ දානෙ වළඳනකොට, අනේ හොඳයි මං ගැන හිතලා හොඳට හදලා තියෙන්නෙ කියලා හිත හිතා දානෙ වළඳන්නෙත් නෑ. ඒ භික්ෂුව මෛත්‍රියෙන් ඉන්නෙ. දානෙ වළඳලා යනකොට ආයෙ හෙටත් මේ විදියට හදලා දානෙ ටිකක් මට දෙත්වා කියලා ඒ භික්ෂුව හිතන්නෙත් නෑ. ඒ භික්ෂුව මෛත්‍රී විහරණයෙන් ඉන්නෙ. අර මනුස්සයන්ට අනුකම්පාව පිණිස ආවා, දානෙ වැළඳුවා, වැඩියා. එතකොට ඔහොම මෛත්‍රියෙන් ඉන්න භික්ෂුවගේ හිත කිලිටි වෙනවාද කියලා ඇහුවා, දානෙ වැළඳුවා කියලා. හිත කිළුටු වෙන්නෑනෙ. ඊටපස්සෙ කරුණාවෙන් ඉන්නවා, මුදිතාවෙන් ඉන්නවා, උපේක්ෂාවෙන් ඒ භික්ෂුව ඉන්නවා. ඒ භික්ෂුව වළඳන දෙයින් ඒ භික්ෂුවගේ

හිත කිලුටු වෙන් නෑනෙ. ඊටපස්සේ බුදුරජාණන් වහන්සේ දේශනා කලා, තථාගතයන් වහන්සේ හෝ ශ්‍රාවකයන් වහන්සේලා සංඝයා විෂයෙහි දානයක් දෙන්න සතෙක් මැරුවොත් ඒ දායකයා පස් ආකාරයකින් පව් රැස් කරගන්නවා. කොහොමද ඒ? එයා දානෙට සංඝයාට ආරාධනා කරලා තීරණය කරනවා හොඳ සතෙක් මරලා, ඌරෙක් හරකෙක් මරලා දානෙ දෙන්න ඕන මස් එක්ක. ඊටපස්සෙ එහෙම හිතලා එයාම තීරණය කරලා හරකා අරන් වරෙන් කියනවා. ඔන්න පව් සිද්ධ වෙනවා, ඒ සතා ගේන්න කියනකොට. ඒ සතා ඇදගෙන එනකොට පව් රැස් වෙනවා. ඊටපස්සෙ මේකා මරාපං කියනවා. එතකොට පව් රැස් වෙනවා. ඊළඟට ඒ සතා මරණවා, එතකොට පව් රැස් වෙනවා. ඊළඟට එයා ඒ දානෙ හදලා දීලා ගරහනවා. ඔය දැන දැනම ඔය මස් කෑවෙ. දානෙ මස් දානොට දීලම ගරහනවා. ඔය යසට මස් කෑවෙ කියලා. එතකොට ඒ කාරණාවෙනුත්, ඒ කාරණා පහෙන් බොහෝ පව් රැස් කරගන්නවා කිව්වා දැන දැන සතෙක් මර මරා දානයක් දෙනකොට. මම නම් හිතන් නෑ දානෙකදිත් දන් දෙන කෙනා, දැන දැනම හාමුදුරුවරුන්ට දානයක් දෙන්නම ඒ පිණිසම සතෙක් මරයි කියලා මට නම් හිතන්න අමාරුයි. ඒ වගේම මම හිතන් නෑ මස් මාංශ වළඳන භික්ෂූන් වහන්සේ නමක් වුනත් මස් මාංශ වලට කෑදරයි කියලා. කෑදරයි කියන්නේ මේකයි, ඔන්න අපි කියමු දුර්භික්ෂයක් එනවා කියලා. කන්න බොන්න නැතිවෙන කාලයක්. එතකොට යන සතෙකුට ගහලා මරලා කනවද මස් ඕන, අද මස් නෑ කියලා. මං නම් හිතන් නෑ කන්න බොන්න නැතත් සතෙක් මරාගෙන මස් කන විදියේ හිතක් ධර්මයක් අහපු කෙනකුට නම් හිතෙයි කියලා. මේ ලැබිච්ච දෙයක් වළඳනවා මිසක්කා. එතකොට ඒ නිසා මං ඒ කාරණාව ජීවක සූත්‍රය ඇසුරෙන්, ජීවක හරියට පැහැදෙනවා භාග්‍යවතුන් වහන්සේ මේ දහම් කරුණ විග්‍රහ කරපු එක ගැන. එතකොට ඒකෙන් තේරෙනවා ඉතින් බුද්ධ කාලෙත් හරියට කැලැත්ති කැලැත්ති තිබ්බ එකක් තමයි මේ නිර්මාංශ ප්‍රශ්නෙ. මම හිතනවා මේ දේශනාවෙනුත් සමහර අයට සමහර ගැටීම් ඇතිවෙයි. සමහර වෙලාවට සමහර අය හිතයි මේ විස්තරය දන්නවා නම් අහන්නෙත් නෑ බණ කියලා. ඉතින් ඒක තමයි තමන්ගේ හිත් වල තියෙන දෘෂ්ටි. මේ දෘෂ්ටි කඩාගත්තු තැන තමයි සරණ පිහිටන්නෙ. දැන් මේ මස් කනවා බොනවා කියන එක නෙවෙයි මෙතන ප්‍රශ්නෙ තියෙන්නෙ. කන එක හෝ නැති එක නෙවෙයි මෙතන ප්‍රශ්නෙ තියෙන්නෙ. මෙතන ප්‍රශ්නෙ තියෙන්නෙ දෘෂ්ටියේ. දැන් සමහර අයට මස් මාංශ ඇලජික් නම් නොකා ඉන්න ඕන. ඊළඟට මස් මාංශාදිය කන නිසා

කොලෙස්ටරෝල් ආදී රෝග වැඩිවෙනවා නම් ඒක නොකා ඉන්න ඕන. ඊටපස්සෙ ඒ විදියට ඒක බලන්න ඕන. එතකොට දෘෂ්ටිය අපේ පිරිසිදු කරගන්න ඕන. ඒ හිතේ බුදුරජාණන් වහන්සේගේ සරණ ධර්මයාගේ සරණ, සංඝයාගේ සරණ හොදට පිහිටන්න ඕන මේ දෘෂ්ටි, මිත්‍යා දෘෂ්ටි හිතෙන්ම ඈත් වෙලා, දුරු වෙලා ගිහිල්ලා. ඉතින් සියල්ල දන්නේ, සියල්ල දක්නේ, කුසල් අකුසල් මොනවාද, යහපත අයහපත මොනවාද, ඇත්තම පිළිහිඩි මොනවාද, ආමගන්ධය කුමක් ද, බොරු දේ මොකක්ද, මනුස්සයා කෙලෙසෙන්නේ කොහොමද, මනුස්සයා කෙලෙසෙන්නේ නැත්තෙ කොහොමද කියලා දන්නේ දකින්නේ බුදුරජාණන් වහන්සේ. ඒ නිසා බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනා බුදුරජාණන් වහන්සේ වදාළ දේ පිළිගන්නවා. බුදුරජාණන් වහන්සේ නොවදාළ දේ බැහැර කළ යුතුයි කියන මිත්‍යා දෘෂ්ටික අදහස් බැහැර කරනවා. ඉතින් ඒවා අපිට සරණට එන්න හරි උපකාරයි, ඒ කරුණු කාරණා තේරුම් ගන්න. ඒ නිසා අපේ හිත් වල දෘෂ්ටිය තව තවත් පිරිසිදු වේවා. ඒ වගේම අපේ හිතින්, විශේෂයෙන්ම මස් මාංශ කතාවකුත් නෙවෙයි අපිට අල්ලගන්න අවශ්‍ය, අපේ හිත් වල කෙලෙස් තියෙනවා නම් ඒක තමයි පිළීගඳ. ඒ නිසා දැන් එහෙම බලනකොට මේ ලෝකයේ සැරිසරාගෙන යනකොට නැහැයක් නම් තියාගෙන යන්න බෑ, මේ කෙලෙස් වල ගඳට. එච්චර කෙලෙස් ගඳ. ඒ නිසා කෙලෙස් ගඳ දුරු කරගෙන, කෙලෙස් නැමැති පිළීගඳ දුරු කරගෙන හිත පිරිසිදු කරගෙන සීල සුගන්ධයෙන්, ඒ වගේම දහම් සුගන්ධයෙන් සුවඳවත් වූ සිතක් ඇති කරගන්න වාසනාව ලැබේවා. අද දවසේ මේ උතුම් ධර්ම දානය සිද්ධ කරන්නෙ, සම්බුදු සරණ දහම් වැඩසටහන පින්වත් හංසී නිසංසලා මහත්මිය විසින්. ඉතින් අපි අද දවසේ රැස් කරගත්තු අප්‍රමාණ පින් බලයෙන්, බුද්ධානුභාවයෙන්, ධම්මානුභාවයෙන්, සංඝානුභාවයෙන් සෙත් ප්‍රාර්ථනා කරමු අපගේ මව් රටටත්, ලෝකයටත්, අපගේ මනුෂ්‍යය වර්ගයාටත් සියලු යහපත රැකවරණය සැලසේවා කියලා. ඒ වගේම සියලු දෙවිවරු මේ පින් අනුමෝදන් වී සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම මේ පින් අනුමෝදන් වෙත්වා මියපරලොව ගිය ඥාතීන්, විශේෂයෙන් දායකත්වය දැරූ පින්වතිය නමින් මියපරලොව ගිය ආච්චි අම්මාට, සීයාට මේ පින් අනුමෝදන් වේවා. ඉතින් තවත් මියපරලොව ගිය ඥාතීන් වෙත් නම් ඔබ නමින් ඒ සියලුම ඥාතීන් පරලොව සැපයට පත්වේවා. ඒ වගේම රැස් කරගන්නට යෙදුනා වූ සියලු පුණ්‍ය ධර්මයන් අනුමෝදන් වේවා පරමපූජනීය ගුරුදේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ විසින් මේ සම්බන්ධයෙන්

පොතක් ලියලා තියෙනවා නිර්මාංශ ප්‍රශ්නය කියලා. තවත් වැඩිදුර තොරතුරු අවශ්‍ය නම් අරන් කියවන්න. ඉතින් අපේ මේ හිතේ තියෙන දෘෂ්ටි බැහැර කරවලා සම්බුදු සරණේ අපිව පිහිටුවන්න අපිට අනුග්‍රහ කරන පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා කියලා අපි සෙත් පතමු, පින් පමුණුවමු. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර සංඝරත්නයට, සිල් මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් බලයෙන් ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම පින්වත් හංසි නිසංසලා මහත්මිය, ඒ වගේම ඒ වගේම එතුමියගේ සුජීවත්ව සිටින දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා. කායික සුවයෙන් සුවපත් වේවා. මානසික සුවයෙන් සුවපත් වේවා. ලෙඩක් දුකක්, කරදරයක් පීඩාවක්, හිංසාවක් නොවේවා. උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගෙන මේ ඝෝරතර සංසාරෙන් නිදහස් වෙන්න අද ධර්මදානයේ පින හේතු වාසනා වේවා කියලා අපි පින් පමුනුවනවා. ඔබ සියලු දෙනාටත්, ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ මේ ධර්මය ඇසූ ඔබට, කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, මාධ්‍යය පවත්වාගෙන යෑම සඳහා උපකාර කරන සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් මව්දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන් ගුරු භවතුන් සහිත සියලු දෙනාට මේ ගෞතම බුද්ධ ශාසනයේ අසිරිමත් සම්බුදු සරණ තුළ සසර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=CA_fOmzbHs0&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=54

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අපිට බුදුරජාණන් වහන්සේ ගැන, ශ්‍රී සද්ධර්මය ගැන, ආර්ය මහා සංඝරත්නය ගැන මේ විදියට අහන්න ලැබෙන එක මහා භාග්‍යයක්. අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහනින් මේ බුද්ධ ශාසනයේ භාග්‍යවතුන් වහන්සේගේ අසිරියම මතුවෙවී මතුවෙවී ජේන්න ගන්නවා. ඔබ හිතන්න මේ තරම් පුලුවන්ද, වෙන ලෝකේ ශාස්තෘන් වහන්සේ නමක් ගැන, වෙන ආගමක, වෙන ජාතියක, වෙන ලෝකෙක. පින්වතුනි බ්‍රහ්ම ලෝකෙ බ්‍රහ්මයෙක් ගැනවත් නෑ මෙච්චර කියන්නෙ. දෙව්ලොව දෙවියෙක් ගැනවත් නෑ. මනුෂ්‍ය ලෝකෙ මනුස්සයෙකුත් නෑ, නාගලෝකෙ නාගයෙකුත් නෑ වෙන බුදුරජාණන් වහන්සේ හැර ගුණ කියන්න පුලුවන් කෙනෙක්. ඒ නිසා තමයි මේ ලෝකයේ ගුණ කියන්නම දක්ෂ නාගයෙක් ඉන්නවා. ඔහුට කියන්නෙ මහාකාල නාගයා. ඒ මහාකාල නාගයා පෙනගොබ දාහක් මවාගෙන බුදුගුණ කියලා ඒත් ඉවර කරගන්න බෑ. මනුස්ස ලෝකෙ මිනිස්සු බුදුගුණ කියනවා, ඉවර කරගන්න බෑ. කල්පයක් තිස්සේ වැටෙන වැස්ස ප්‍රඥාවෙන් දකින සාරිපුත්ත මහරහතන් වහන්සේ වැහි බිඳු ගාණ ගණන් කරලා කියන්න පුලුවන්, ඒ සාරිපුත්ත මහරහතන් වහන්සේට පින්වත්නි බුදුගුණ කියලා ඉවර කරගන්න බෑ. දෙවියන්ටත් සක්දෙව්දුන් ඇතුළු දිව්‍ය සභාවේ අය බුදුගුණ කියනවා, ඉවර කරගන්න බෑ. බ්‍රහ්ම ලෝකෙ බ්‍රහ්මයෝ බුදුගුණ කියනවා ඉවරකරගන්න බෑ, නමුත් ගුණ කියන අය තුන්ලෝකෙම, නාගලෝකයේ පටන් බ්‍රහ්ම ලෝකය දක්වාම එකම එක්කෙනෙක්ගේ තමයි ගුණ කියන්නෙ. ඒ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගෙ. අපි මනුස්ස ලෝකෙ, අපිට ශක්ති පමණින් අපි මේ විදියට බුදුගුණ කියනවා. එතකොට මේකෙන් තමයි ශාසනයට කෙනෙක් එන්නෙ. මේකෙන් තමයි ශාසනය පිහිටන්නෙ. මේකෙන් තමයි නිවන් මාර්ගය උපද්දවන්නෙ. ඉතින් අද දවසේ වැඩසටහන පින්වත් මයුක කුඩාගමගේ මහත්මයා සහ ආන්යා මහත්මිය, ඒ වගේම නතාලි ලියනාරච්චි මහත්මිය, මේ පින්වතුන් එකතුවෙලා තමයි අද දවසේ මේ ධර්මදානය සිද්ධ කරන්නෙ. මේ පින්වතුන්ට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා, ගෞතම

බුදුරජාණන් වහන්සේගේ දහම් පණිවිඩය මේ බුද්ධ ශාසනය අනාගත ලෝකයාට දායාද කරන්නට මේ ගන්න උත්සාහයේ කොටස් කරුවන් වීමෙන්. අද දවසේ බුදුගුණ දේශනාව ටිකක් දීර්ඝයි. ඒ නිසා අපි දේශනාව පටන් ගමු. කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ කාලයේ භික්ෂූන් වහන්සේලා දෙනමක්, කාශ්‍යප බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සේ ධර්මධර, විනයධර භික්ෂූන් වහන්සේලා දෙනමක් යම් හේතුවක් මුල් කරගෙන, යම් හේතුවක් කිව්වේ තවත් භික්ෂූන් වහන්සේලා විසින් ප්‍රත්‍යලාභයෙන් පොළඹවනු ලදුව ඒ කියන්නෙ එක එක ලාභ සත්කාර දීලා හිත වෙනස් කරලා, නඩුවක් වැරදි විදියට විසඳෙව්වා, සංඝාධිකරණයක්. එහි විපාක විදියට පසුතැවිල්ලෙන් මියගිය ඒ තෙරුන් වහන්සේලා දෙනම සාත කියන කන්දේ එක යක්ෂයෙක් වෙලා ඉපදුනා එක තෙරුන් වහන්සේ නමක්, සාතාගය. හිමාල කන්දේ එක තෙරුන් වහන්සේ නමක් ඉපදුනා හේම කියන කන්දේ හේමවත. ඒ ගුරු හාමුදුරුවරුන්ගේ ඒ අදහසේම ඉඳලා ඒ වැරැද්දට අනුබල දුන්නු අනිත් තෙරුන් වහන්සේලා, උන්වහන්සේලාත් ඒ අයත් එක්කම ඉපදුනා. පන්සීය, පන්සීය පිරිස. ඉතින් යක්ෂයන්ගේ යක්ෂ සභාව තියෙනවා. යක්ෂ සභාවට එකතු වුන වෙලාවේ සාතාගය, හේමවත අඳුනගත්තා. හරියට සංවේගයට පත්වුනා පාපී භික්ෂුවක් නිසා අපිට බුද්ධ ශාසනය වැරදුනා කියලා. නමුත් මේ ලෝකේ බුදුවරු පහළ වෙද්දි යම් යම් වෙනස්කම් අද්භූත දේවල් සිද්ධ වෙනවා. ඒ නිසා හේමවත නුඹ ද මට කියන්න ඕන ඒ වගේ වෙනස්කමක් සිද්ධ වුනොත්. සාතාගය නුඹද මට කියන්න ඕනෙ ලෝකෙ වෙනසක් සිද්ධ වුනොත්. ඔවුන් එකිනෙකා කථිකා කරගත්තා. ගෞතම තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේ වෙසක් පුන් පොහෝය දවසක මව්කුසින් බිහිවුනා. අසිරිය සිද්ධ වුනා. නමුත් ඔවුන් පඤ්චකාමයෙන් ඔද වැඩී හිටපු නිසා ඔවුන් ඒ ගැන හිතුවෙ නැහැ වැඩිපුර. ලොව්තුරා සම්මා සම්බුදු බවට පත්වුනා. ඊටපස්සෙ එදාත් නොයෙක් අසිරිය සිද්ධ වුනා. පඤ්චකාමයෙන් ඔදවැඩී හිටපු නිසා මත්වෙලා හිටපු නිසා බැරිවුනා ඒ ගැන අවධානයක් යොමු කරන්න. පළවෙනි ධර්මය බරණැස ඉසිපතනාරාමයේදී පස්වග භික්ෂූන් වහන්සේලා උදෙසා ධර්ම චක්‍රය ප්‍රවර්තනය කරන්නට යෙදුනා අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ. එදා දස දහසක් ලෝක ධාතුවලින් දෙවිවරු බුදුරජාණන් වහන්සේගෙන් ශ්‍රී සද්ධර්මය අහන්න ආවා. බුද්ධාන්තරයක් පින් කරගෙන, තවත් බුදු කෙනෙක් පහළ වෙනකල් පෙරුම් පුරාගෙන හිටපු ඒ දෙවි දේවතාවුන් වහන්සේලා බුදුරජාණන් වහන්සේ පිරිවරාගත්තා. කෝටි ගණන් එදා මගඵල ලැබුවේ. සාතාගිර කන්දේ

හිටපු යක්ෂයා පන්සීයක් පිරිස පිරිවරාගෙන ඒ භාග්‍යවතුන් වහන්සේගේ ධර්ම දේශනාව අහන්න - පිරිස සමඟ නෙවෙයි ඉස්සෙල්ලා සාතාගිරි යක්ෂයා ගියෙ. ගිහිල්ලා බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහනවා. බුදුරජාණන් වහන්සේ ද්වෙම භික්ඛවේ අන්තා පබ්බජිතේන නසේවිතබ්බා යෝචායං කාමේසු කාමසුඛල්ලිකානු යෝගෝ හීනෝ ගම්මෝ පෝතුජ්ජනිතෝ අනරියෝ අනත්ත සංහිතෝ ආදී වශයෙන් දේශනා කරනකොටම දැනගත්තා මේ නම් ලොව්තුරා සම්මා සම්බුදු කෙනෙක්. කෝ දැන් මගේ මිත්‍රයා ඉන්නවාද. කෝ මේ හේමවත කෝ කියලා හැමතැනම හොයනවා. එතකොට අර දෙව් පිරිස කන්යොමා බණ අහද්දි, ඊළඟට ධර්මය අවබෝධ කරගන්න හිත පිහිටුවලා තියෙද්දින් ඔහු කලබල වුනා. ඔහු යාළුවා ගැන හිතුවා. එතකොට ඔහුට ධර්මය අවබෝධ කරන්න බැරිවුනා. දැන් බලන්න, ඔන්න යාළුකම් හදාගැනීමේ තියෙන අනිත් දෝෂය. එතකොට මලක් පූජා කරන්න ගියත් තවත් කෙනෙක් මතක් වෙනවා. වන්දනාවක යන්න ගියත් තවත් කෙනෙක් මතක් වෙනවා. එතකොට දැන් සමහර උපාසක අම්මලත් ඉන්නවා. මේ බණ අහද්දිනුත් දහඅතේට කෝල් එකක් දෙනවා. අර හාමුදුරුවන්ගේ බණක් යනවා අහපල්ලා, අහපල්ලා, අහපල්ලා. කෝල් ටික අරන් ඉවර වෙනකොට බණ ඉවරයි. එතකොට මේ තියෙන්නෙ දෝෂ. මේක අත් අල්ලගෙන යන්න බෑ. මේ කට්ටිය රංචු පිටින් අල්ලගෙන යන්න බෑ මේක. තමන්ට ධර්මයක් අහලා තමන් මේකෙ සැනසිල්ලේ මේ දහම් සිසිලස විඳින්න ඕන. අපි කියමු අන්තර්ජාලයේ තියෙන එකක් නම් ඔන්න කාටහරි යැව්වැහැකි, මේක අහපං කියලා. සජීවී යන ධර්ම දේශනාවක්. එතකොට ඒ වෙලාවේ කලබල වෙන්න හොඳ නෑ. ඊට්පස්සෙ පින්වතුනි මේවගේ, ඒ නිසා ඔන්න මේ ධර්ම දේශනාව ඉවර වෙච්චි ගමන් සාතාගිර එක පිම්මට ඒ යක්ෂ ඍද්ධියෙන් හේමවත හොයාගෙන ගියා. හේමවතත් අර බුදු කෙනෙක් ධර්මය දේශනා කරද්දින් ලෝකයේ ඇතිවෙනවානෙ දස දහසක් ලෝක ධාතූන් කම්පා වෙනවා. සියලුම වෘක්ෂ වල මල් පිපෙනවා හිමාලයේ. අප්‍රමාණ සුවඳක් විහිදෙනවා, ආලෝකය පැතිරෙනවා. ඒවත් එක්ක හේමවත හිතුවා මොකක්හරි අද වුනා. යන්නෝන මං කියලා ඔහුත් එහෙන් එනවා. මේ දෙන්නා රජගහනුවර එක්තරා නගරයක කුළුගෙයක් මුදුනෙන් මුණගැහුනා. ඒ මුණගැහුනට පස්සෙ දෙන්නා සතුටු සාමීචිය කතා කරලා, කතා කරගත්ත ටික තමයි මේ දේශනාවෙ තියෙන්නෙ. මේ දේශනාව සුත්ත නිපාතයේ හේමවත සූත්‍රය. හරිම ලස්සනයි. ඉතින් බුදුගුණ වලට බර දීලා බුදුගුණ ගැන ඉස්මතු කරන විදියට මේ ධර්ම දේශනාව

සිද්ධ කරා නම්, මේ ධර්ම දේශනාව වචනයෙන් වචනය අර්ථ විග්‍රහ කර කරා කලොත් දවස් ගණන්, වරු ගණන් දේශනා කරන්න තරම් මහත් වූ අර්ථ සහිත අතිශයින් සොඳුරු දහම් දෙසුමක්. ඉතින් ඒ නිසා අපි වෙලාව තියෙන හැටියට ඉගෙන ගනිමු. දැන් සාතාගිර කියනවා අජ්ජ පන්නරසො උපොසථො හේමවත, අද පණ්ණරසී දවසක්, පෝය දවසක්, උපෝසථ දවසක්. දිව්‍යා රාත්ති උපට්ඨිතා, මේ රාත්‍රිය දිව්‍යයි. අනොමනාමං සත්ථාරං, අලාමක උත්තමයා කියන නමින් යුතු වූ ශාස්තෘන් වහන්සේ, හන්ද පස්සාම ගොතමං, ගෞතමයන් වහන්සේ පහළ වෙලා. යං දැන් යං බලන්න. ඊටපස්සෙ මේ ඇසළ පුන් පෝය දවසයි. හේමවත, දැන් බලන්න යක්ෂයො එහෙම යන්නෑ. ඊටපස්සෙ හේතුව, දැන් හේමවත හිතුවා මේ සාතාගිර රැවටෙන්න ඇති. ඇයි ඉන්නවානෙ ෂඩ්ශාස්තෘවරු, අජිත කේසකම්බලි, මක්ඛලී ගෝසාල, නිගණ්ඨනාථපුත්ත, පකුධකච්චායන, පූර්ණකස්සප, සංජයබෙල්ලට්ඨිපුත්ත මේ අනේක අය බුදුවෙලා බුදුවෙලා කියලා කියාගෙන යනවා. ඒ නිසා මේ සාතාගිරට මුලාවක් වත් ඇතිවුනාද දන්නෑ. ඒ නිසා සාතාගිර මං උඹෙන් අහන්නෙ මේකයි. දැන් මේ කතාව යනකොට යක්ෂයන්ගේ ඕලාරික හඬක් නිකුත් වෙන්න ගත්තා. මේක උනේ පින් බලයකට. ඒ යක්කු දෙන්නා අහසේ කතා කර කර ඉන්න තැන යටම මාළිගාවේ උඩම තට්ටුවේ කාලි කියලා දාසියක් අතුගගා ඉන්නවා. රාත්‍රියේ බඩු අස් කර කර මොකක් හරි වැඩක්. එයාට එකපාරම අජ්ජ පණ්ණරසො කියනකොටම ඇහුනා. මේ කෙල්ල ගල්ගැහුනා. ඊටපස්සෙ කන්යොමාගෙන අහන් හිටියා. අහසේ කවුරුවත් පේන් නෑ හඬක් එනවා. එතකොට අපි මේ කරන දේශනාව සම්පූර්ණයෙන්ම ඒ කාලි - කුරගරවැසි කාලි කියලා කියන්නෙ - ඒ දාසිය ඒක ඇහුවා. ඇහුවට පස්සේ මේ දේශනාව ඉවර වෙනකොට ඇය සෝතාපන්න බවට පත්වුනා. එතකොට මෑ තමයි කියනවා ශ්‍රවණයෙන් ධර්මය අවබෝධ කරපු කාන්තාව මේ බුද්ධ ශාසනයේ. ඊටපස්සෙ, ශ්‍රද්ධාධික චරිතයක්. ඊටපස්සෙ කියනවා අහනවා සාතාගිරගෙන් හේමවත යක්ෂයා අහනවා, කිම කච්චි මනො සුපණිහිතො, කොහොමද දැන් ඔය කියන එක්කෙනාගෙ හිත හොඳට සමාධිමත් වෙලා තියෙන කෙනෙක්ද. සබ්බ භූතේසු තාදිනො. සියලු සත්ත්වයන් කෙරෙහි තාදීයි ද, අකම්පිතයි ද. හොඳ මෛත්‍රියක් හිතේ තියෙනවාද. කච්චි ඉට්ඨෙ අනිට්ඨෙ ච සඞකප්පස්ස වසීකතා. ඉෂ්ට අනිෂ්ට කරුණු තමන් කෙරෙහි පැමිණෙන කොට හොඳ නරක, මනාප අමනාප අරමුණු තමන්ට එනකොට ඒ අරමුණු වලට හිත විසිරෙන්න දෙන්නැතිව දමනය කරගන්නවාද. ඊටපස්සෙ ඔන්න බුදු කෙනෙක්ගේ ගුණ

කියනවා. මනොවචස්ස සුපණිහිතො, බුදුවරුන්ගේ මනස සමාහිතයි. සබ්බභූතෙසු තාදිනො, සියලුම සත්ත්වයන් කෙරෙහි එකම කරුණාවක් මෛත්‍රියක් තියෙන්නේ බුදුවරුන්ට. අථො ඉට්ඨෙ අනිට්ඨෙ ච, ඉෂ්ට අනිෂ්ට කාරණා ඉදිරියේ, මනාප අමනාප දේවල් ඉදිරියේ සඞකප්පස්ස වසීකතා. සංකල්ප වශී කරලා තියෙන්නෙ, දමනය කරලා තියෙන්නෙ සිතුවිලි. විසිරෙන්න දෙන්නෑ. මනාප දෙයින් උද්දාමයටත්, අමනාප දෙයින් ගැටීමත් බුදුවරුන්ගේ හිත්වල ඇතිවෙන්නෑ. බුදුවරුන්ගේ හිත, චිත්ත චෛතසික, චේතනෝපණිධි දමනය වෙලා තියෙන්නෙ. සිත දමනයෙන් යුක්තයි. ඊටපස්සෙ අහනවා ආ එහෙමද, කච්චි අදින්නං නාදියති, හොරකම් කරන් නෑ. කච්චි පාණෙසු සඤ්ඤතො, සියලු සත්ත්වයන් ගැන සංවර කෙනෙක් ද. මොකද නිගණ්ඨනාථපුත්ත පවා මෛත්‍රී කරුණාව දක්වන්නේ යොදුන් සීයක් ඇතුලත සත්ත්වයන්ට විතරයි. එතනින් එහාට ඕන එකක් කියලා එයාගේ බණ. සියලු සත්ත්වයන් කෙරෙහි සංයමය තියෙනවාද. කච්චි ආරා පමාදම්හා කච්චි ඣානං න රිඤ්චති, ප්‍රමාද වෙන කෙනෙක් නෙවෙයිද, ඊළඟට ධ්‍යානයෙන් හිස් නොවෙයි ද, හැම වෙලාවෙම හිත සංසිඳුවාගෙන භාවනාවෙන් ඉන්න කෙනෙක් ද. දැන් මේ අහනවා, දැන් පුදුමයි. එකින් එක කියාගෙන කියාගෙන යනකොට පුදුමයි. තව අහනවා ඊටපස්සෙ. සාතාගිර බුදුගුණ කියනවා. කිසිවකු, න සො අදින්නං ආදියති, කිසිවකු නොදුන් දෙය ඔහු නොම ගනීමය, ලොව හැම සතුන් ගැන පවතී සංයමය. පමාවෙන් තොරව දහමේ සිටිත් මය. බුදුවරු සමවත ද අත් නොම හරිත් මය. කියලා අහනවා කච්චි මුසා න භණති, බොරු කියන්නෙත් නෑ. කච්චි න ඛීනබ්‍යප්පතො, වචනයෙන් කරන පව් කරන් නෑ බොරු කියන් නෑ, කේලම, හිස් වචන ඒ වගේ වචනයෙන් පව් කරන් නැද්ද, කච්චි වෙභූතිංය නාහ, කේලම් කියන් නෑ. කච්චි සම්ඵප්ප න භාසති, සම්පප්පලාප කියන් නැද්ද. කිම ඔහු බොරු බසක් නොකියන කෙනෙක්මද, රළු දැඩි වචන කිසිවිට නොම කියත්මද, කේලම් කිසිවකුත් ඔහු නොම කියත්ම ද, හිස් වචනයෙන් ඔහු කල් නොම ගෙවත් මද. එතකොට බුදුවරුන්ගේ සංයමය, බුදුවරුන්ගේ තියෙන ගුණධර්ම ගැන ඔවුන්ට මතක තියෙනවානෙ. කාශ්‍යප බුද්ධ ශාසනයේ හිටපු අයනේ. කාශ්‍යප බුදුරජාණන් වහන්සේ ගැන එයාලා දැනගෙන හිටපු ඒවා අහලා තිබ්බ දේවල්, මහණකමේ හික්මිච්ච දේවල්, මහණකමේ කියපු බුදුගුණ ඒ ඔක්කෝම දැන් මේ අහනවා. ඊටපස්සෙ සාතාගිර කියනවා, මුසා ච සො න භණති, ඒ උත්තමයා බොරු කියන් නෑ. අථො න ඛීණව්‍යප්පථො, වචනයෙන් රළු බස්, දැඩි වචන, වචනයෙන් වරද්ද ගන්න වචන කියන් නෑ. අථො වෙභූතියං

නාහ, කේලම් කියන් නෑ. මන්තා අත්ථං න භාසති, ඒ කතා කරන වචනයේ මාත්‍රාව දන්නවා. ඊළඟට ඒ අර්ථවත් වචනම තමයි බුදුවරු කතා කරන්නෙ. නැණගුණ වඩන ශ්‍රී සදහම් දෙසත්මය. ඊටපස්සෙ අහනවා කච්චි න රජ්ජති කාමෙසු, කාමයන් කෙරෙහි ඇලෙන් නැද්ද. කච්චි චිත්තං අනාවිලං, හිත කැළඹෙන් නැත්ද. කච්චි මොහං අතික්කන්තො, මෝහය ඉක්මවා ගිහිල්ලද. කච්චි ධම්මෙසු චක්ඛුමා, උන්වහන්සේට දහම් ඇස තියෙනවාද කියලා ඇහැව්වා, ධර්මය දකින ඇහැ. කියනවා ඔහු කාමයෙහි කිසි දින නොම ඇලෙත්මය. තරහ පැමිණ ඒ සිත නොකළඹත්මය. මුලාවන දෙයද පසු කොට සිටිත්මය. සදහම් ඇස ලබා මුලු ලොව දකිත්මය. උන්වහන්සේනෙ දහම් ඇසින් ලෝකය බලන්නෙ. අහනවා කච්චි විජ්ජාය සම්පන්නො, ඒ ඔය කියන උත්තමයාට, ගෞතමයන් වහන්සේට විජ්ජාව තියෙනවාද. විද්‍යා, ඒ කියන්නෙ පුබ්බෙනිවාසානුස්මෘති ඥාණය, චුතූපපාත ඥාණය, ආසවක්ඛය ඥාණය, දිබ්බචක්ඛු, දිබ්බසෝත, චේතෝපරිය ඥාණය, ඊළඟට පුරුෂින්ද්‍රිය ඥාණ ආදී ඥාණ, දස බල ඥාණ, විශාරද ඥාණ තියෙනවාද. කච්චි සංසුද්ධචාරණො, පිරිසිදු හැසිරීමක්ද තියෙන්නෙ. කච්චිස්ස ආසවා ඛීණා, ආශ්‍රව ක්ෂය වෙලාද. කච්චි නත්ථි පුනබ්භවො, ඒ කෙනාට ආයෙ පුනර්භවයක් නැද්ද. දැන් මේ යක්ෂයා බුදුරජාණන් වහන්සේ ළඟට යන්න කලින් විස්තර දැනගන්න හැටි. එහෙම යන්නෑ මෙයාලා, සාතාගිරි, හේමවත කියන්නෙ යක්ෂ සෙන්පතියෝ. දහස් ගණන් යක්ෂයන්ට අධිපතා මහා බලසම්පන්න අය. ලේසියෙන් කෙනෙක් ළඟට යන් නෑ. ඊටපස්සෙ කියනවා සාතාගිර කියනවා, විජ්ජාය චෙව සම්පන්නො අථො සංසුද්ධචාරණො, විද්‍යාවෙනුත් යුක්තයි, චරණයෙනුත් යුක්තයි. ඒ උත්තමයා තමයි විජ්ජාචරණ. සියලු ආශ්‍රව ක්ෂය කරලා, පුනර්භවය සිඳලුවා. ඔහු ලොව උතුම් නුවණින් යුතු කෙනෙක්මය. පිරිසිදු ලෙසට හැසිරෙන ගුණවතෙක්මය. කෙලෙසන කිසි දෙයක් ඔහු තුළ නොවෙත්මය. යළි දුක හදන භවය ද නොම තිබෙත්මය. ආයෙ භවයක් නෑ උන්වහන්සේට. ඊටපස්සෙ ආයෙ අහනවා, හේමවතට කියනවා සාතාගිර, මේ ඔය ඇති දැන්. අපි යං. කියනවා සිත කය වචන මුණිඳුන්ගේ පිරිසිදුය. බබළන නුවණ හැසිරෙන ගුණ විසිතුරුය. මෙලෙසින් දැන හැඳින සම්බුදු සමිඳුන්ය. කිවමැන බුදුගුණම මුලුලොව පැතිරෙන්න. මුලුලෝකෙම පැතිරෙන්න බුදුගුණ කියන්නයි තියෙන්නෙ අපිට දැන්. සිත කය වචන මුණිඳුන්ගේ පිරිසිදුය. බබළන නුවණ හැසිරෙන ගුණ විසිතුරුය. මෙලෙසින් දැන හැඳින සම්බුදු සමිඳුන්ය, අනුමෝදන් වන්න හද පිරි සතුටින්ය. ලෝකයේ බුදු කෙනෙක් පහළ වුනා කියලා

හේමවත උඹ අනුමෝදං වෙනිං. ඒ උත්තමයා හරි පිරිසිදු කෙනෙක්. විජ්ජාචරණ සම්පන්න කෙනෙක්. සම්බුදු සමිඳුන් හඳුනගනින්. සිත කය වචන මුණිඳුන්ගේ පිරිසිදුය. බබළන නුවණ හැසිරෙන ගුණ විසිතුරුය. මෙලෙසින් දැන හැඳින සම්බුදු සමිඳුන්ය, යමු බැහැ දකින්නට ගෞතම මුනිඳුන් ය. අපි යං ඒ ගෞතම මුණිඳු දකින්න. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගේ ශරීරය ගැන කියනවා. එණිජඩඝං කිසං වීරං අප්පාහාරං අලොලුපං, ඒ බුදුරජාණන් වහන්සේගේ පා දෙක ඒණිජංගා, ඒණි මුවෙක්ගේ වගේ කෙණ්ඩා තියෙනවා. කිසං වීරං, ඒ උත්තමයන් වහන්සේ ටිකක් කෙට්ටුයි, මහත නෑ බුදුරජාණන් වහන්සේ. ඊළඟට අප්පාහාරං අලොලුපං, උන්වහන්සේ ආහාර අඩුවෙන් ගන්නෙ. ගොඩාක් ආහාර ගන්නෙ නෑ. ඊළඟට වීර්යයෙන් යුක්තයි. මුනිං වනස්මිං ධ්‍යායන්තං, වනයේ ධ්‍යාන වඩන ඒ මුණිවරයා, ඒහි පස්සාම ගොතමං, අපි යං බලන්න. මුවෙකුට බඳු වූ කෙසඟ සිරුරින් සමන්විත, නිති වෙර වඩන සුළු ආහරින් යැපෙන ගත, ලොල් නැති මුණිඳුන්ය. අලොලුකං කියන්නෙ ලොල් නෑ. ලොල් නැති මුණිඳුන්ය වනයේ දැහැන් ගත. යමු අපි දකින්නට ගෞතම බුදුන් වෙත. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ළඟට දැන් යනවා. මේ ටිකම අහනකොට කුරගල වැසි කාලි උපාසිකාව සෝතාපන්න වුනා. මේ බුදුගුණ අහලා. ඇයි කාගෙන්ද බුදුගුණ ඇහැව්වේ. ශ්‍රද්ධාවට පත්වෙච්චි සාතාගිරගෙන්. දැන් සාතාගිර දැන් සෝවාන් වෙලාද, ඒ දෙන්නා සෝවාන් වෙලා නෑ. මේක තේරුම් ගන්න. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දකිනකොට ඒ දෙන්නට ඇතිවුනු විස්තරය කියනවා, සීහංවෙකචරං නාගං කාමෙසු අනපෙක්ඛිනං, සිංහයෙක් වගේ, ඇතෙක් වගේ. මුවමඩල දැක්ක ගමන්ම තේරෙනවා කාමයේ අපෙක්ෂා නෑ කියලා. උපසඞකම්ම පුච්ඡාම මච්චුපාසප්පමොචනං, අපි යං බලන්න දැන්. උන්වහන්සේ දැක්ක ගමන්ම තේරෙනවා. ගිහිල්ලා මේ මාරබන්ධනයෙන් මිදෙන හැටි අපි දෙන්නා අහමු. දැන්ම ප්‍රශ්නෙම හදාගත්තා දැන්. ප්‍රශ්නයක් හදාගත්තා දැන් ගිහිල්ලා අහමු කියලා. තනිවම යනෙන සිහරජු, ඇත්රජු විලසේ නොඇලෙයි කිසිදු කාමයකට හේ පෙර සේ. විමසා සිටිමු අපි ඔහු වෙත ගොස් මෙලෙසේ, හඳුනා මරඋගුල මිදෙමුද අප කෙලෙසේ. කියලා අපි දැන් ගිහිල්ලා අහමු. ඊටපස්සේ බුදුරජාණන් වහන්සේ ළඟට ගියා දැන්. දැන් තමයි ගියේ. ගිහිල්ලා බුදුරජාණන් වහන්සේගෙන් අහනවා, අක්ඛාතාරං පවත්තාරං සබ්බධම්මාන පාරගුං, අහනවා බුදුරජාණන් වහන්සේ සියලු ධර්මයන්ගෙන් පරතෙරට වැඩි බුදුරජාණන් වහන්සේගෙන් අහන්නයි අපි මේ ආවෙ. බුද්ධං වෙරභයාතීතං

මයං පුච්ඡාම ගොතමං, සියලු භයෙන් නිදහස් වූ ගෞතමයන් වහන්ස, ඔබවහන්සේගෙන් දැන් අපි ප්‍රශ්නයක් අහනවා. පවසන දහම් අපගේ දම් රජාණෙනී පරතෙර වැඩිය තිලොවග ගුරු පියාණෙනි, හැමවෙර බිය තුරන් කල සිහරදාණෙනී, අපි පැණ අසමු ගෞතම බුදු පියාණෙනි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ නිහඬව හිටියා එයාලා ප්‍රශ්න අහනකල්. කිස්මිං ලොකො සමුප්පන්නො, කොහොමද මේ ලෝකෙ හැදුනෙ. කිස්මිං කුබ්බති සන්ථවං, කොහොමද මේ ලෝකෙත් එක්ක එකතු වුනේ. කිස්ස ලෝකො උපාදාය, කොහොමද ලෝකය පවතින්නෙ. කිස්මිං ලෝකො විහඤ්ඤති, ලෝකයා මෙච්චර පීඩා විඳින්නෙ, වෙහෙසෙන්නෙ, දුක් විඳින්නෙ කොහොමද? කුමක් උපන් කලකටද ලොව හටගන්නේ, කුමක් කෙරෙහි ලොව නිති එක්වී ඇත්තේ, කුමක් හා එක්ව ලොව පැවතී ඇත්තේ, කුමක් නිසා ලොව දුක් විඳිමින් ඇත්තේ. මෙයාලා අහන්නේ මේ දුකේ හටගැනීමත්, දුක පැවතීමත් මේ ලෝක දුකින් මනුස්සයා දුක් විඳින හැටි අහන්නේ. කොහොමද මේ ලෝක සත්ත්වයා මේච්චර දුක් විඳින්නෙ. බුදුරජාණන්  වහන්සේ වදාළා ඡස්සු ලොකො සමුප්පන්නො, මේ ලෝකයට හයක් ඉපදුනා ඒකයි ඒ. ඡස්සු කුබ්බති සන්ථවං, හයක් එක්ක ලෝකයා එකතු වුනා ඒකයි මේ. ඡන්න මෙව උපාදාය, හයක් ලෝක පවතිනවා ඒකයි මේ. ඡස්සු ලොකො විහඤ්ඤති, හයකින් තමයි ලෝකයා දුක්විඳින්නෙ. මොකෙන්ද එහෙනම්? ඇස, කණ, නාසය, දිව, කය, මනස. ආයතන හයක් නිසා තමයි මේ දුක් කන්දරා ඔක්කොම විඳින්නේ. බලන්න ඔබ යම් දුකක් වින්දා නම් ඇහැ මුල් කරගෙන නෙවෙයි ද කියලා. කණ මුල් කරගෙන නෙවෙයිද කියලා. නාසය මුල් කරගෙන නෙවෙයි ද කියලා. දිව මුල් කරගෙන නෙවෙයිද කියලා. කය මුල් කරගෙන නෙවෙයිද කියලා. හිත මුල් කරගෙන නෙවෙයි ද කියලා. දැක්ක රූපයක්, දැක්ක ශබ්දයක්, විඳපු ගඳ සුවඳක්, විඳපු රසයක්, ඊගාවට විඳපු පහසක්, ඊළඟට හිතපු දේවල්, මනෝ විතර්ක, සිහින මාළිගා ඕවා නිසානෙ දුක් විඳින්නෙ. මේ ආයතන හය ඉපදුනා ද, එතනමයි දුක උපදින්නෙ. ආයතන හයට බැඳුනා ද, ඒකමයි දුකට බැඳුනා කියන්නෙ. ආයතන හය පවතිනවාද, ඒකමයි දුක පවතිනවා කියන්නෙ. මේ ලෝක සත්ත්වයා ගොඩාක් දුක් විඳින්නෙ. මේ ලෝක සත්ත්වයා සියලු දුක් විඳින්නෙ ආයතන හය නිසා. ආයතන හය නිසා. එතකොට ඇහෙන් රූප බල බලා ආයෙත් ඇහැක් හදනවානෙ, සසරේ ඇහැක් ලැබෙන්නෙ. කණෙන් ශබ්ද අහලා ඒ කර්ම වලින් ආයෙ කණක් හැදෙනවානෙ. නාසයෙන් ගඳ සුවඳ විඳ විඳ ආයෙත් නාසයක් හැදෙනවානෙ. දිවෙන් රස විඳ විඳ කර්ම හැදෙනවා, ආයෙ

දිවක් හැදෙනවානෙ කොයි භවයේ හරි. ඊළඟට මනුස්සයෙක් වගේ හරි, දෙවියෙක් වගේ හරි, එහෙම නැත්නම් නිරි සතෙක් විදියට හරි. නිරි සතාටත් දිව තියෙනවානෙ, එකනේ ලෝදියෙන් පිච්චිලා යන්නෙ. ඊළඟට කයෙන් විඳින පහසින් ආයෙ හැදෙනවානෙ සසර. ඊළඟට මේකෙන්මනෙ මනසින් හිත හිතා හිතන දේවල් වලින් කොච්චර විඳිනවාද, හිතන දේවල් වලින් කර්ම. ආයෙත් හැදෙනවානෙ. දැන් ජේන්නැද්ද අර එක සෝරෙය්‍ය සිටුතුමා කච්චායන මහරහතන් වහන්සේ දිහා හිතලා නරක සිතිවිල්ලක් හිතුවා. එතකොට ඒ උත්තමයන් වහන්සේ මහා ආනුභාව සම්පන්න රහතන් වහන්සේ නමක් නිසා අරයාගේ චේතනාවට මොකද වුනේ. වල් චේතනාවක් පහළ කළේ. ඊටපස්සෙ එයාගේ ශරීරය නිකන්ම ස්ත්‍රියෙක්ගේ වුනා, පිරිමියෙක්ගේ ශරීරය. එතකොට ස්ත්‍රියෙක් විදියට ඇහැක්, කණක්, නාසයක්, දිවක්, කයක්, මනසක් බවට ඒ මොහොතෙම පරිවර්තනය වුනානෙ, සිතිවිල්ල නැමැති කර්මයෙන්. එතකොට අපි, හොඳට බලන්න අපි කරන කර්ම වලින් අපිට ලැබෙන්නෙ ආයතන හයක්. ඒක ගවයෙක් විදියට වෙන්න පුලුවන්, ඌරෙක් විදියට වෙන්න පුලුවන්. එක්කො දෙවියෙක් විදියට වෙන්න පුලුවන්, මනුස්සයෙක් විදියට වෙන්න පුලුවන්, නිරි සතෙක් විදියට වෙන්න පුලුවන්. ලැබෙන්නෙ ආයතන හයක්. හද හදා එකකින් තව එකක් හදන නිසා තමයි මේවට ආයතන කියන්නෙ. නිෂ්පාදනය කරනවා ඇහෙන්, කණෙන්, නාසයෙන්, දිවෙන්, කයින්, මනසින්. මොනවද නිෂ්පාදනය කරන්නෙ, ඇහෙන් නිෂ්පාදනය කරනවා තවත් ආයතන. ඇස, කණ, නාසය, දිව, කය, මනස. කණෙන් නිෂ්පාදනය කරනවා ආයෙ ආයතන හයක්. නාසයෙන්, දිවෙන්, කයෙන්, මනසින් දුක් විඳ විඳ යනවා. දුක් විඳ විඳ යනවා. ඊටපස්සෙ අහනවා කතමං තං උපාදානං යත්ථ ලොකො විහඤ්ඤති නියයානං පුච්ඡිතො බ්‍රෑහි කතං දුක්ඛා පමුච්ඡති, ඉතින් මේ දුක් විඳ විඳ පීඩා විඳ විඳම මේ ලෝක සත්ත්වයා ඔහොම යනවා නම්, මේකෙන් නිදහස් වෙන්න මඟක් කියලා දෙන්න. දුකින් නිදහස් වෙන්න මඟක් කියන්න. ලොව හැම වෙහෙසවන එයටම එකතු වන, දෙය කවරක්ද අප හට එය කියනු මැන. දැනගෙන මේ දුකින් පරතෙර වෙතට යන, වදහළ මැන මුණිදුනි මඟ දුක නිවන. දුක නිවන මාර්ගය අපිට කියලා දෙන්න. මේ ලෝක සත්ත්වයා එකතු වෙලා එයටම එකතු වෙලා පීඩා වෙවී යන දේ. ඒ කියන්නෙ බලෙන් තමයි මේ ලෝක සත්ත්වයා, බලෙන් කියන්නෙ ඇහැට එකතු වුනු නිසා දුක විඳින්නෙ. කණට එකතු වුනු නිසා දුක විඳින්නෙ. දිවට එකතු වුනු නිසා දුක විඳින්නෙ. කයට එකතු වුනු නිසා දුක විඳින්නෙ. මනසට එකතු වුනු නිසා දුක විඳින්නෙ. එකතු වුන් නැත්නම් දුක්

විඳින්නෙ නෑ. ඉතින් හිතන්නකො. එකතු වුන, පවුල් පන්සල් වෙලා කියලා ගෙවල් වලට එකතු වෙච්චි නිසාමනෙ දුක් විඳින්නෙ. දරුවො නිසා දුක්විඳිනවා කියන්නෙ තමන්ගේ ගෙදරට දරුවො එකතු වුනු නිසානෙ. ඒ ගමට එකතු වුනු නිසානෙ ගමේ අයත් එක්ක විඳින්නෙ. රටට එකතු වුනු නිසානෙ රටේ දුක් කන්දරාත් එක්ක අපි විඳින්නෙ. ලෝකෙට අපි එකතු වුනු නිසානෙ ලෝකෙ ප්‍රශ්න වලදි අපි විඳින්නෙ. ඒ නිසා මේ ඔක්කොම එකතු වෙච්චි නිසානෙ. ඊටපස්සෙ තියෙනවා, බුදුරජාණන් වහන්සේ දෙනවා උත්තරේ, පඤ්ච කාමගුණා ලොකෙ මනොඡට්ඨා පමොදිතා, මනස හයවෙනි කරගත්තු පඤ්චකාමය තියෙනවා. එත්ථ ඡන්දං විරාජෙත්වා එවං දුක්ඛා පමුච්ඡති, ඒ කෙරහි තියෙන ඡන්දය නැතිවුනා නම් මේ දුක ඉවරයි කිව්වා. මනස හයවෙනි කරගත්තු පඤ්චකාමය මොකක්ද. ඇස, කණ, නාසය, දිව, කය. කයෙන් විඳිනවා රූප, ශබ්ද, ගන්ධ, රස, පහස. මනස හයවෙනි විදියට එයා තමයි එතන ලොක්කා. ඇයි ඒ, එයා බලන රූපයෙන් තෘප්තිය හදා හදා දෙන්නෙ කවුද, මනසනෙ. ඇහැයි රූපයයි නෙවෙයි, මනසයි මේක කරන්නෙ. ඇයි ඒ? එකම රූපය බලලා එක්කෙනෙකුට අප්පිරියයි, එක්කෙනෙකුට ආසයි. එකම සද්දෙ අහලා එක්කෙනෙකුට ආසයි, එක්කෙනෙකුට අප්පිරියයි. එතකොට කණයි ශබ්දයයි නිසාමනෙ. මනස මේකෙ ඇතුලෙ දෙනවා, මෙයා සම්පූර්ණ මෙහෙයවනවා. එතකොට මේ පඤ්චකාම ගුණයත් එක්ක මනස එකතු වුනා හයවෙනුව. ඒ නිසා මේ කෙරෙහි තියෙනවා නම් යම්කිසි ඡන්දරාගයක්, ඒක දුරු කලා නම්, මේ දුක් කන්දරාවම ඉවරයි. ඇහැ ගලවලා දාන්න නෙවෙයි තියෙන්නෙ, රූප ටික ඔක්කොම වහන්න නෙවෙයි තියෙන්නෙ. කණ ගලවලා දාන්න නෙවෙයි තියෙන්නෙ, ශබ්ද වහන්න නෙවෙයි තියෙන්නෙ. තියෙන්නෙ ඇහැ කෙරහි තියෙන කැමැත්ත දුරු කරන්න ඕන. රූප කෙරෙහි තියෙන කැමැත්ත දුරු කරන්න ඕන. කණ - ශබ්දය, නාසය - ගඳ සුවඳ, දිව - රසය, කය - පහස, ඊළඟට මනස. මේ කෙරෙහි තියෙන ඡන්දරාගය දුරු කරලා දාන්න ඕන. බුදුරජාණන් වහන්සේ වදාළේ ඒක මේ විදියට. මේක පරිවර්තන. සිත හයවෙනුව පස්කම් ගුණයට නතුව. පවතින ඇල්ම හඳුනාගෙන සිහි ඇතිව, දුරු කළ විට ඇල්ම යළි නොලබනු රිසිව. මෙලෙසට දුකින් දුරු වේ නිවනට යොමුව. ඒ ඡන්දරාගය දුරු කරනකොට තමයි නිවනට යොමු වෙන්නෙ. ඊටපස්සෙ එතං ලොකස්ස නියයානං අක්ඛාතං වො යථා තථං, මේක තමයි ලෝකයේ ස්වභාවය. ලෝකෙන් එතෙර කරවන හැටි, ඔබ අහපු දේට මං සත්‍යය, යථා ස්වභාවයමයි ඔය දේශනා කලේ. එතං වො අහමක්ඛාමි එවං දුක්ඛා පමුච්ඡති,

ඒ නිසා සසරින් එතෙරට යෑම මේ දුකින් එතෙරට යෑම ගැන දේශනා කරනවා. මේ ලොව එතෙර කරවන දහමකි සුව සේ. ඇසු ඇසූ දේට පිළිතුරු ලැබ දුනි සිතු සේ සිදුවේ දුකින් එතෙරට යාමද මෙලෙසේ, මෙම හැම දහම ඔබ හට පවසමි නිසි සේ. නිසි සේ මේ දහම ඔබට පැවසුවේ. මේක තමයි කියනවා, සංසාර දුකින් එතෙර වෙන්න ක්‍රමයක් කියනවා මේක. මොකක්ද සංසාර දුකින් එතෙර වෙන්න ක්‍රමය, යම්තාක් අපි දුක් කන්දරා විඳිනවා නම් ඇස, කණ, නාසය, දිව, කය, මනස මුල් කරගෙන විඳින්නෙ. ඒ දුක් කන්දරා. එතකොට මේකටම තමයි අපි ඇලිලා ඉන්නෙ. පඤ්චකාමය තුළ අපිව මේ ගිල්ලවලා තියෙන්නෙ මනස හයවෙනි කොටගෙන. ඉතින් මේ කෙරෙහි තියෙන ඡන්දරාගය දුරු වුනා නම්, මේ සියලු දුක් කන්දරා ඉවරයි. ඔන්න ඕක තේරුම් ගත්තොත් ඕක තමයි කියනවා නිවන් මාර්ගය. එතකොට ඒ ඇස, කණ, නාසය, දිව, කය, මනස කෙරෙහි තියෙන ඡන්දරාගය දුරු කරන්න ඒ දුරු කරන හිත හදාගන්න, ඒ දුරු කරන වැඩපිළිවෙල තමයි ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන් කරන්නෙ. ඒකට හොඳ දැක්මක් තියෙන්නෙ ඕන, මෙහෙමයි දුක, මේකයි දුක. මේකයි හටගන්නෙ කියලා හොඳ දැක්මක් තියෙන්න ඕන. එතකොට ඒක සම්මා දිට්ඨිය. ඊළඟට ඒ ගැන එයාට තියෙන්න ඕන හොඳ කල්පනාවක්. මේ දුක උපදින හැටි, ඒ මනසිකාරය තුළ හිංසාව නෑ, ව්‍යාපාදය නෑ, ලෝභය නෑ. සංකප්පය හොඳට තියෙන්නෙ ඕන, සම්මා සංකප්ප ඊළඟට මේ වැඩ පිළිවෙලේ යෙදෙන කෙනාගේ ආජීවය කොහොමටත් සුදුසුයි. එයාට මිත්‍යාජීවයන් මොකක්වත් පවත්වන්න බෑ. ඊටපස්සෙ මෙයා සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, මෙයා ප්‍රාණඝාත සොරකම ආදියෙන් වැළකී වාසය කරන්න ඕන. මේ ධර්මය අවබෝධ කරගන්න ඕන. වැරදි කාම සේවනය. ඊළඟට ආජීවය පිරිසිදු කරගන්න ඕන. ඊළඟට මෙයා මේක කරද්දීන් උපදින අකුසල් ප්‍රහාණය කර කර නූපන් අකුසල් නූපදවා, උපන් කුසල් වඩා වර්ධනය කරගනිමින්, කුසල් උපද්දවා උපද්දවා මේ මාර්ගය දියුණු කරන්න තියෙන්නෙ. හොඳට මෙයාට සිහිය තියෙන්න ඕන. කය ගැන, හිත ගැන, පහළ වෙන සිතිවිලි ගැන, ඊළඟට දැනෙන වේදනාවල් ගැන. ඊළඟට මේ ධර්මතා ගැන. සතර සතිපට්ඨානය තියෙන්න ඕන. සම්මා සතිය. හිත හොඳට සමාධිමත් වෙනවා මේ තුළ. පළවෙනි ධ්‍යානය, දෙවෙනි ධ්‍යානය, තුන්වෙනි ධ්‍යානය, සතරවෙනි ධ්‍යානය, මේ විදියට හිත වැඩෙන කොට ඇස, කණ, නාසය, දිව, කය, මනස කෙරෙහි තියෙන ඡන්දරාගය දුරු වෙලාම වඩනවා. හැබැයි මේක තමයි වැඩ පිළිවෙල. මේ වෙන්නෙ දුක නැතිවෙන්නෙ ආයතන හය කෙරෙහි තියෙන ඡන්දරාගය

නැතිවෙච්චි ගමන්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගෙන් අහනවා, කො සූධ තරති ඔඝං, කො සූධ තරණී අන්නවං අප්පතිට්ඨෙ අනාලම්බෙ කො ගම්භීරෙ න සීදති. මෙයාලා අහනවා, මේ සැඩපහර තරණය කරනවානෙ, කෙලෙස් සැඩ පහර. එතකොට ඒකෙන් එතෙරටම යන්න නම්, සැඩපහර තරණය කරලා එතෙරට යන්න නම්, මෙයා පිහිටන්නත් බෑ. ඒ කියන්නෙ වතුර උඩ හිටියා කියලා එගොඩට යන්නෙත් නෑ. ඊටපස්සෙ ඇතුලට ගිලුනොත් ඒත් එගොඩට යන්නත් බෑ. අප්පතිට්ඨෙ අනාලම්බෙ කො ගම්භීරෙ න සීදති. ඊටපස්සෙ නොගැඹුරේ ගිලෙනවා. ඒ ඒ තැන ගිලෙනවා, උඩට ඉස්මතු වෙනවා යනවා, එහෙම නැතිව කෙලින්ම සැඩපහර තරණය කරගෙන යන්නෙ කොහොමද කියලා ඇහුවා. සසර සැඩ පහර තරණය කරන කෙනා, මේ භව සයුර පරතෙරටම යන පිහිනා, නොඇලෙන නොපිහිටන ගැඹුරෙහි නොම ගිලෙනා, පවසනු මැනව කවරෙක් වෙද මේ හපනා. පිහිටන්නෙත් නැතිව, ඒ වගේම ඇලෙන්නෙත් නැතිව ගැඹුරේ ගිලෙන්නෙත් නැතිව සංසාරෙන් එගොඩ වෙන්නෙ කොහොමද කියලා ඇහුවා. ඔන්න දැන් සංසාරේ යන කෙනාට තියෙන ප්‍රශ්න ටිකක්. සසර සැඩ පහර තරණය කරනකොට ඇලෙන්නත් බෑ, ඒකෙ පිහිටලා ඉන්නත් බෑ සාගරයේ. ඒ වගේම ගිලෙන්නත් බෑ, ඍජුවම එගොඩට යන්නත් ඕන. එතකොට කොහොමද මේක කරන්නෙ. බුදුරජාණන් වහන්සේ දුන්නු උත්තරය තමයි සබ්බදා සීල සම්පන්නො, මේ සංසාර සාගරයෙන් එතෙර වෙන්න නම් හැමදාම සිල්වත් වෙන්න ඕන. හැමදාම සිල්වත් වෙන්න ඕන. පඤ්ඤවා, ප්‍රඥාවන්ත වෙන්න ඕන. සුසමාහිතො, හිත සමාධිමත් වෙන්න ඕන. අජ්ඣත්තචින්තී සතිමා, හිත ඇතුලෙ සිහියෙන් යුක්ත වෙන්න ඕන. ඔඝං තරති දුත්තරං, දුෂ්කර වූ ඕඝය මොහු විසින් තරණය කරනවා. නිති සිල් රකින නුවණැති සිත සමාහිත, යොමුකොට සිහිනුවණ තම ජීවිතය වෙත, තරණය කළ නොහැකි සැඩපහරකින් යුත, තරණය කරනු නියතය මොහු මේ දියත. අනිවාර්යයෙන් මොහු සසර තරණය කරනවා කියනවා හොඳ සීල සම්පන්න කෙනා. එහෙනම් දැන් සිල් නැතිව ඔය වර්තමානයේ සමහර අය රහත් වෙලා කියලා බණ කියන්නෙ, ඔය සිල් ගැන එච්චර හිතන්න එපා, ඒවා බුද්ධ කාලෙ පනවපු ඒවා, මේ කාලෙට ඕවා අදාල නෑ. එතකොට මේ බුදුරජාණන් වහන්සේ දේශනා කරලානෙ, මේ සංසාර සැඩපහර තරණය කරන්න සීලය ඕන කියලා. ඊළඟට සිහිය ඕන, සිතේ සමාධිමත් බව ඕන, ඊළඟට සිහිනුවණ ඕන, හොඳට නුවණත් ඕන එයාගෙ. නුවණ කියලා කියන්නෙ අනිත්‍ය වශයෙන්, දුක් වශයෙන්, අනාත්ම වශයෙන්

දකින්න පුලුවන් කම, මුලා නොවෙන ගතිය, කුසල් අකුසල් තේරුම් බේරුම් කරගන්න පුලුවන් බව, මාර්ගය ප්‍රතිපදාව තේරෙන එක. ආයතන භයෙන් දුක උපදින හැටි තේරෙන එක, ඒ නුවණ ඕන. ඉතින් තරණය කරන්න දුෂ්කර සැඩපහර එයා තරණය කරනවා. ඊටපස්සෙ විරතො කාමසඤ්ඤාය සබ්බසංයොජනාතිගො නන්දීභවපරික්ඛීණො සො ගම්භීරෙ න සීදති, කියනවා විරතො කාමසඤ්ඤාය, කාම සංඥාවන් කෙරෙහි හිත ඇලෙන්න දෙන්නැතිව, ඒ කියන්නෙ නොඇල්මෙන් යුක්තව ඊළඟට සංයෝජන බිඳගෙන. කාම සංඥාවට ඇලෙන් නැතිව, සංයෝජන බිඳගෙන, නන්දීභවපරික්ඛීණො නන්දී කියලා කියන්නෙ ඇලෙනවා. භවයට ඇලෙනවා. පරික්ඛීණො, කෙලෙස් ක්ෂය කරනවා. සො ගම්භීරෙ න සීදති, සසර සැඩපහරෙ ගිලෙන්නැතිව එතෙරට යනවා. එතකොට එතෙරට ගිය කෙනාට තමයි භව සංයෝජනය ප්‍රහාණය වෙලා, කෙලෙස් ප්‍රහාණය වෙලා තියෙන්නෙ. කාම සංඥා වලින් නොඇලුනු, ඊළඟට සියලු සංයෝජන ප්‍රහාණය කරලා එගොඩට යනවා. එහෙනම් සාගරයේ මොනවද පින්වතුනි තියෙන්නෙ. කාමය, භවය. හරිනෙ. කාමෝග, භවෝග, අවිජ්ජාඕග. ඒකනෙ සසර සැඩපහර කියන්නෙ. කාමය සහිත සංයෝජන, සංයෝජන කිව්වෙ සක්කාය දිට්ඨි, විචිකිච්ඡා, සීලබ්බත පරාමාස, කාමරාග, පටිගරාග, ඊළඟට උද්ධච්ච අවිජ්ජා මේ ඔක්කෝම සංයෝජනනෙ, දස සංයෝජන තියෙන්නෙ. මේ ඔක්කෝම කෙලෙස්. මේ ආශ්‍රව, මේ ඔක්කොම අපි සසරට බැඳලා තියාගන්නවානෙ. ඊළඟට භව සන්ධිය, සසරේ යන්න තියෙන පැවැත්මට තියෙන ආශාව. මේවා නේද සංසාරයේ අපි ඇදගෙන ගිය, සංසාරේ අපි ගහගෙන යන සැඩ පහර. ඉතින් මේවා ඔක්කෝම දුරු කරලා, කෙලෙස් ප්‍රහාණය කරලා, මේ සසර සසර සැඩ පහරින් එතෙරට යනවා කියනවා, මේ නුවණින් යුතුව සිල්වත්ව මේ මාර්ගය පුරුදු කරන කෙනා. ඊටපස්සෙ හඳුනා කාමයන් සිත නොම ඇලෙන මෙදා හැම භව බැඳුම් එකිනෙක යයි බිඳ හැරදා, භවයෙන් සතුටු වන කෙලෙසුන් හැම පරදා, නොගිලේ හෙතෙම මේ භව සයුරේ කිසිදා. භව සයුරේ ගිලෙන් නෑ කියනවා. ඊටපස්සෙ මේ දේශනාව මේ විදියට දේශනා කරනකොට පින්වතුනි මේ වෙනකොටම සාතාගිර, හේමවත යක්ෂයො සෝතාපන්න බවට පත්වුනා. ඊටපස්සෙ මේ අය බුදුගුණ කියනවා. පැණසර ගැඹුරු හැම අරුතම දකින නිසි, දුරු කල කාම කෙලෙසුන් සිත නොමැති කිසී, හැම ලෙස මිදුනු මුණිදුන් අර බලනු රිසී, මොක් මග වඩින ලොව බබලන මහ ඍෂී. කියනවා බුදුරජාණන් වහන්සේට ගාම්භීර ප්‍රඥාවක් තියෙන්නෙ. හැමදෙයක්ම දකින පුදුම සහගත ප්‍රඥාවක්. ඊළඟට

අකිංචනං, බුදුරජාණන් වහන්සේ සෙලවෙන්නැති අකම්පිත කෙනෙක්. ඊළඟට මේ කාමයන්ට බැඳි බැඳී යන මේ සසරින් එතෙර වෙච්චි කෙනෙක්. ආශාව දුරු කරපු කෙනෙක්. ඊළඟට කියනවා බුදුරජාණන් වහන්සේ දිහා බලන්න, සියල්ලන්ගෙන් මිදුන බුදුරජාණන් වහන්සේ දෙස බලන්න, බුදුරජාණන් වහන්සේ නිවන් මාර්ගයේ ගමන් කරපු මහා ඍෂීන් වහන්සේ නමක්. අනොමනාමං නිපුණත්ථදස්සිං පඤ්ඤාදදං කාමාලයෙ අසත්තං තං පස්සථ සබ්බවිදුං සුමෙධං අරියෙ පථෙ කම්මානං මහෙසිං, බුදුගුණ කියන්නෙ. ලාමක නොවන හැම අරුතම දකින නිසී, පැහැබර නුවණ දෙන කෙලෙසුන් නොමැති කිසී, හැමදෙය ගැනම දුටු මුණිඳුන් බලනු රිසී, නිවනට වඩින ලොව බබලන මහ ඍෂී. බුදුගුණ. සුදිට්ඨං වත නො අජ්ජ, අදනෙ හරියට දැක්කෙ. සුප්පභාතං, අද තමයි හොඳටම නැගිට්ට දවස. සුහුට්ඨිතං, හොඳටම නැගිට්ට දවස. සුප්පභාතං, අද තමයි උදෑසන. අපි මේ යක්ෂ ලෝකෙ ඉපදුනාට පස්සෙ අද තමයි හරි දෙයක් දැක්කෙ. අද තමයි හරියට නැගිටිච්ච දවස. අද තමයි අපිට හරි උදයක් ආපු දවස. යං අද්දසාම, ඇයි ඒ, අපි දැක්කා. සම්බුද්ධං ඔඝතිණ්ණමනාසවං, ඕඝ තරණය කරපු බුදුරජාණන් වහන්සේ දැක්කා අද. දුටුවෙමු ඇස් පුරා අපි භගවතාණන්, ලැබුවෙමු මිහිරි උදයක රිවිරදාණන්, සැඩදිය මැද එතෙර වුන පින්වතාණන්, දුටුවෙමු ඒ උතුම් සම්බුදුපියාණන්. ඒක තමයි උදේ. ඒක තමයි මනා නැගිටීම. අද තමයි හරියට දැක්කෙ. ඉමේ දස සතා යක්ඛා ඉද්ධිමන්තො යසස්සිනො, මෙතන ඉන්නවා දහසකට අධික යක්ෂයො, මහා ඍද්ධිමත් බල සම්පන්න. සබ්බෙ තං සරණං යන්ති ත්වං නො සත්ථා අනුත්තරො, ඔබ වහන්සේ සරණ යනවා. අපි සියලු දෙනා ඔබ වහන්සේ සරණ යනවා. ඔබ වහන්සේ තමයි අනුත්තර ශාස්තෲන් වහන්සේ. ඍද්ධි බල ඇති, මහ යසස් ඇති, යකුන් දහසකි මෙතන රැස්වුන, අපි සියලු දෙන සරණ යමු ඔබ වනු මැනව අප සියලු දෙනහට පරමෝත්තම ගුරු පියාණන්. ඔබවහන්සේ ශාස්තෲන් වහන්සේ. තෙ මයං විචරිස්සාම ගාමා ගාමං නගා නගං, දැන් අපි යනවා හැම තැනම, ගමින් ගමට, නගරයෙන් නගරයට, අපි දාහක් යනවා දැන්. නමස්සමානා සම්බුද්ධං, බුදුවරුන්ට වැඳපල්ලා කියලා කිය කියා යනවා දැන්. ධම්මස්ස ච සුධම්මතන්ති, මේ ධර්මය කොයිතරම් සුන්දරයි ද කිය කියා අපි දැන් යනවා. නමදිමින් සම්බුදුරජාණන්, අසිරිමත් දම් රස අමා වන්, පවසමින් ලොව යමු ගමින් ගම, අපි සියලු දෙන යමු පර්වතයෙන් පර්වතයට, බුදුගුණ කිය කියාම යනවා කියලා. අප්‍රමාණ බුදුගුණ වර්ණනාවක් කරලා සාතාගිර හේමවත යක්ෂයෝ භාග්‍යවතුන් වහන්සේගේ සිරිපා වැඳලා අතුරුදහන් වෙලා

ගියා. කාලෙන් කාලෙට යක්ෂ පිරිස පිරිවරාගෙන ශාස්තෘන් වහන්සේ බැහැදකින්න යනවා. අදටත් සාතාගිර හේමවත යක්ෂයන් යක්ෂ ලෝකෙ සිටිනවා. බුදුරජාණන් වහන්සේ සරණ ගිය, ධර්මය සරණ ගිය, ආර්ය මහා සංඝරත්නය සරණ ගිය තෙරුවන් සරණ ගිය ශ්‍රාවකයෙකුට කරදරයක් වුනොත් ඔවුන් පිහිට වෙනවා. තෙරුවන් සරණේ පිහිටලා, ආටානාටිය ආදී පිරිත් භාවිතා කරගෙන ඉන්න කෙනෙකුට අමනුෂ්‍යයෙක් කරදර කලොත් ඔවුන් පිහිට වෙනවා. ඒ සරණ ලැබෙනවා, මොවුන් ප්‍රතිඥා දීලා තියෙන්නෙ. ඒ නිසා මේ බලන්න බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ යක්ෂයෝ කියන හැටි. මේ යකෙක් කියන විදියටවත් බුදුගුණ ටිකක් කියාගන්න ඔබට පුලුවන් වුනොත්. මේ බලන්න බුදුරජාණන් වහන්සේ තනිව යනෙන සිහ රජු, ඇත් රජු විලසේ, බලන්න බුදුගුණ කියන හැටි. අවසානේ ඒ ශ්‍රද්ධාව නේද. බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ කිය කියා ආපු ශ්‍රද්ධාවෙන් අහපු ප්‍රශ්නෙන් ඒ මොහොතෙම සෝවාන් වෙනවානෙ. බුදුගුණ කිය කියා ආවෙ .බුදුරජාණන් වහන්සේ ගාම්භීර ධර්මය දේශනා කලා. කුමක් ද, ආයතන හයට ඇලෙන්න එපා කිව්වා. ඒ ධර්මය අවබෝධ කලානෙ. ඔවුන් ජීවිත අටක් ඇතුලත අර්හත්වයට පත්වෙනවානෙ. කොයිතරම් යහපතක් ද, ඒ නිසා ඔබත් ගමින් ගමට, නගරයෙන් නගරයට හැම තැනම බුදුරජාණන් වහන්සේගේ බුදුගුණම කිය කියා යන්න. සෝවාන් වුන කෙනත්, ඊළඟට දැන් කිව්වද ස්වාමීනී මම දැන් සෝවාන් වෙච්චි හැටි හැමතැනටම කිය කියා යන්නම්. මාත් දැන් ඔක්කෝටම ඇහැ අනිත්‍යයි අනිත්‍යයි කිය කියා යන්නම්. කියලා කිව්වද, බුදුගුණ. බුදුරජාණන් වහන්සේ තමයි ධර්මය දේශනා කරන්නෙ. එතකොට ශ්‍රාවකයන්ට තියෙනවා ඒ ශාස්තෘන් වහන්සේගේ උත්තම බව කියන්න ඕන. කියපු ගමන් ශාස්තෘන් වහන්සේ ගැන විශ්වාසය, ශ්‍රද්ධාව පිහිටනවා. ඊටපස්සෙ ඒ බුදුරජාණන් වහන්සේ දේශනා කරන ධර්මය තියෙනවානෙ. ඒ ධර්මය ගැන ලොකු පැහැදීමක් එනවා. ඊටපස්සෙ පුරුදු වෙනවා එයා ඒ අනිත්‍යයි කියන එක පුරුදු කරන්න. දැන් බලන්න මෙතන ලොකු මහා විශාල විස්තරයක් නෑ. නමුත් සසර ගමනම තියෙනවා. මොකක්ද සසර ගමන. මේ සසර ගමන, දුක් විදින එක ඔක්කෝම ඇති වුනේ ආයතන හයට ඇලිච්චි නිසා. ඇස, කණ, නාසය, දිව, කය, මනස. එතකොට ඇස, කණ, නාසය, දිව, කය, මනස ආයතන හයට ඇලිලා තමයි දුක් විඳ විඳ යන්නෙ. පඤ්චකාමය සහිත හිත හයවෙනිකොට තියෙන මේ සසරට ඇලිච්ච මනුස්සයාගේ දුක් විඳින ස්වභාවය මේ ඡන්දරාගය දුරු කරන්න නම්, එයා සීලයක පිහිටලා හොඳට

සිහිනුවණින් යුක්තව, සීලයේ පිහිටලා හොඳ සිහිනුවණින් යුක්තව හිත සංසිඳවා, සංසිඳවා මේ යථාර්ථ ධර්මය දෙස බලන්න ඕන. සත්‍යයේ ස්වභාවය දෙස බලන්න ඕන. අපිට සංසාරයේ මෙච්චර කාලයක් ලැබිච්ච අස්වලට සිද්ධ වෙච්චි දේ මේ ඇසට සිද්ධ වෙනවා. අනිත්‍යයි. සංසාරයේ යම්තාක් ඇස් වලින් විඳපු දේවල් ටික මේ ඇහැටත් සිද්ධ වෙනවා. දුක් සහිතයි. සංසාරයේ එක ඇහැකටවත් කරවගන්න බැරි දේ මේ ඇහැට සිද්ධ වෙනවා. මොකක්ද, මම කියලා අල්ලගන්න බැරිවුනා. මගේ කියලා රැකගන්න බැරිවුනා. මගේ ආත්මය කියලා තියාගන්න බැරිවුනා. එහෙනම් කවදාවත් මේ ඇහැට වෙන් නෑ. මොකද නැතිවෙච්චි ඇස් ගාණ ගණන් කරන්න බෑ. අසංඛෙය්‍ය හතරක් තුළ මහබෝධිසත්ත්වයෝ ඇස්ම දන් දීලා තියෙනවා අහසේ තරු වලට වැඩිය. දන්දීපු ඇස්ම. ඒ නිසා උන්වහන්සේ ඇස් දන් දිදී, ජීවිතේ දන් දිදී, දුක් විඳින දේවල්ම දනට දීලා, කවුරුවත් අත් අරින්නෙ නැනෙ දුක් විඳින්න තියෙනවා නම්. දුකත් අත්හැරියා. ඇස් දන් දිදී ඇහැට තියෙන ආසාවම අත්හැරියා. කන්වලින් යහපත් දේවල් අහලා අහලාම කණට තියෙන ආශාව අත්හැරියා. ඊටපස්සෙ සීල සුගන්ධය, ධර්ම සුගන්ධය සසරේ පුරුදු කරලා නාසයට තියෙන ආශාව අත්හැරියා. ඊළඟට උන්වහන්සේ සසරේ ප්‍රණීත දේවල්, අමෘතය හොයා හොයා ඇවිල්ලා අමෘතය රස විඳලා, දිවට තියෙන රසයම, අත්හැරියා. ආශාවම. ඊළඟට බුදුරජාණන් වහන්සේ කයට තියෙන ආශාව අත්හැරියා. මේ කයින් තපස් රැක රැක, මේ කයින් සිල් රැක රැක, මේ කයම දනට දිදී, මේ කය නිසාම ඉවසා ඉවසා, මේ කය මුල් කරගෙන වීර්යය කර කර කයම අත්හැරියා. මේ මනසින්ම මේවා ටික ඔක්කොම පුහුණු කරලා පුහුණු කරලා ඒකම අත්හැරියා. පින්වතුනි සසරින් එතෙර වෙන්න, ඔරුව පාරුව හදාගන්න ඕන මෙගොඩ තියෙන ඒවගෙන්මයි. ඇයි එතෙරින් කොහොමෙයි ගන්නෙ. ඒ නිසා අපිට මේ ජීවිතේදිම තමයි මේ ගුණධර්ම පුරුදු කරගෙන තියෙන්නෙ. ඉතින් මේ දුක් විඳින ජීවිතෙන්මයි ගුණධර්ම පුරුදු කරන්න තියෙන්නෙ. ඒක තේරුම් ගන්න. ඒ නිසා පින්වත්නි අපේ බුදුරජාණන් වහන්සේ ගැන නාග ලෝකෙ, මනුස්ස ලෝකෙ, යක්ෂ ලෝකෙ, දිව්‍ය ලෝකෙ, ඊළඟට බ්‍රහ්ම ලෝක වල අපමණ බුදුගුණ කියනවා. ඉතින් ඒ නිසා මේ යක්ෂයන් බුදුගුණ කියපු හැටි. ධර්මය අවබෝධ කරපු හැටි. ඉතින් අපිටත් අපි සරණ ගිය අපිට උරුමයක් තියෙනවා. අපි බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයො. අපි පැවිදි වෙච්චි අය, ඔබ උපාසක උපාසිකාවො. ඔවුන් යක්ෂයො අපි මිනිස්සු, අපේ මිනිස්සු අතරයි බුදුරජාණන් වහන්සේ පහළ වුනේ. ඉතින් ඒ නිසා ඒ ශාස්තෘ සම්පත්තිය ගන්න. ඉතින් ඒ

අමනුෂ්‍යයො පවා සසර දුකින් නිදහස් වුනානෙ. ඒනිසා අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ ගැන සතුටින් හිතන්න. මේ හේමවත සූත්‍රය නැවැත කියන්න. මුළු හදවතින්ම, දිවි තියෙනතුරාම, නිවන් දකිනතුරාම බුදුරජාණන් වහන්සේ සරණ කරගන්න. ශ්‍රී සද්ධර්මය සරණ කරගන්න. ආර්ය මහා සංඝරත්නය සරණ කරගන්න. බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ ම කියන්නෙ. දිවිතිබෙන තුරුම, නිවන් දකින තුරුම ඒ උතුම් තිසරණය මාගේ ජීවිතයට, ඔබගේ ජීවිතයට එකම පිළිසරණ වේවා කියලා සිහි කරනවා, සෙත් පතනවා.

ඉතින් පින්වත්නි අද දවසේ මේ උතුම් ධර්ම දානය සිද්ධ කරන්නේ, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන පින්වත් මයුක කුඩාගමගේ මහත්මයා, ඒ වගේම ටාන්යා මහත්මිය සහ නටාලි ලියනාරච්චි මහත්මිය විසින්. ඉතින් අපි පළමුවෙන්ම බුදුරජාණන් වහන්සේගේ අපමණ බුදුගුණ වල ආනුභාව බලයෙන්, ඒකාන්තයෙන්ම අපගේ මව්රටටත්, ලෝකයටත් සියලු යහපත වේවා, සියලු මිනිස්සුන්ට සියලු සෙත රැකවරණය වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරමු. සියලු දෙවියෝ, සාතාගිර, හේමවත ඇතුලු ඒ සියලු යක්ෂයන් සහිත සියලු දෙවිවරු, බ්‍රහ්මයෝ මේ පින් අනුමෝදන් වෙලා සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම මියපරලොව ගිය ජයන්ත ලියනාරච්චි මහත්මයාට, මේ පින් අනුමෝදන් වේවා, අනුමෝදන් වේවා. ඔබ කවුරුත් නමින් මියගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා. පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ උතුම් සූත්‍ර දේශනා අර්ථ සහිතව මිහිරට පරිවර්තනය කරලා තියෙනවා. ඉතින් ඔබත් මිහිරට මේ බුදුගුණ කියන්න. මේ ධර්මය තේරුම් ගන්න. ඉතින් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ මෑත යුගයේ මේ ධර්මය අපිට විවෘත කරලා දුන්නා. මේ සුත්ත නිපාතය දැන් ඔබ අහනවා. ලොකු ස්වාමීන් වහන්සේ මහණ වෙලා මට මතක හැටියාට අවුරුදු දොළහක් හෝ පහළොවක්. ලොකු ස්වාමීන් වහන්සේට සුත්ත නිපාතය කියන පොතවත් කවුරුවත් පෙන්නලත් නෑ, කියලත් නෑ. මෙහෙමයි කියලා විස්තරයක් වත් කියලා දීලා නෑ. ඉතින් උන්වහන්සේ ඒක අපිට පරිවර්තනය කරලා, ඔබදැන් ගිහි මිනිස්සුන් විදියට මේ ධර්මය අහනවා. අපි මහණ වෙනකොටම මේ ධර්මය අහනවා. ලොකු ස්වාමීන් වහන්සේ දුෂ්කරව මේ ධර්මය ඉගෙනගත්තෙ. අපිට ඒ දහම් දායාදය ලබලා දුන්නා. පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සියලූම ස්වාමීන් වහන්සේලාටත්, අනාගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත්, ඔබ සියලු දෙනාටත්

මේ පින් අනුමෝදන් වේවා. ඒ වගේම විශේෂයෙන් පින්වත් මයුක කුඩාගමගේ මහත්මයා, ටානියා මහත්මිය, නතාලියා ලියනාරච්චි මහත්මිය ඒ ධර්ම දානය දුන්නු පින්වතුන්ට ඒකාන්තයෙන් මේ පින් අනුමෝදන් වේවා. මයුක කුඩාගමගේ මහත්මයා සහ ඒ පින්වතුන්ගේ පවුල් වල සියලු දෙනාට, ඒ වගේම නිපුන ලියනපතිරණ මහත්මයා සහ ඒ අයගේ පවුල් වල සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. දයාවංශ කුඩාගමගේ මහත්මයා සහ මිනෝලී පෙරේරා දියණියට, නිදුක් නිරෝගී සුවපත් භාවය දීර්ඝායුෂ සැලසේවා. මේ ධර්ම දානයේ පින් බලයෙන්. මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට පින් සිදු වේවා. ඔබට ඉගැන්වූ ගුරුවරුන්ට ද පින්සිදු වේවා. ධර්මය අවබෝධ කරගන්න, සසර දුකින් නිදහස් වෙන්න සම්බුදු සරණින් සැනසෙන්න ලැබේවා. මේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, ශ්‍රද්ධා රූපවාහිනී ලක්විරු ගුවන්විදුලිය ඒ වාගේම මාධ්‍යය පවත්වොගන යාමට උපකාර කරන සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් අසිරිමත් සම්බුදු සරණේ පිහිට ලබමින් සසර දුකින් නිදහස් වෙන්න මේ රැස් කරන පිනත් හේතුවාසනා වේවා කියලා සෙත් පතනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=UFKpZc7wPck&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=55

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ නවසීලන්තය, කැනඩාව සහ සිංගප්පූරුව යන රටවල්වල පදිංචි කළණ මිතුරු පිරිසක් එකතු වෙලා. ඉතින් මේ පින්වතුන් බොහෝ පින් රැස් කරගන්නවා ගෞතම බුදුරජාණන් වහන්සේගේ උතුම් දහම් පණිවිඩය ලෝකයට බෙදන්නට, ධර්ම දානය කරන්නට ලැබෙන ඒ ධර්මදානමය පින රැස්කරගැනීම මුල් කරගෙන. පින්වතුනි අපි බුදුගුණ විදියට කතා කලාට, මේ සියලුම බුදුගුණ, දැන් පාරමිතා ගත්තොත් එහෙම ජාතක පාලිය ඇසුරින්, විවරණ ගත්තු ඒවා චරියාපිටක බුද්ධවංශ පාලිය ඇසුරින්, ඒවා ඛුද්ධක නිකායේ පොත්. ඊළඟට ජාතක දේශනා ඛුද්ධක නිකායට අයිති පොත්. ඊළඟට බුදුගුණ, ඒ සියල්ලම සූත්‍ර දේශනා ඇසුරින් තමයි මේ ධර්ම දේශනාව කලේ. මෙතුවක් කාලෙකට බුදුගුණ කිව්වේ සූත්‍ර දේශනා ඇසුරින්. ඒ ධර්මයනෙ. එතකොට ඔබ බුදුගුණ අහනවා කියලා ධර්මයයි මේ අහන්නෙ. එතකොට ඔබ බුදුරජාණන් වහන්සේ දකින්නෙ ධර්මය තුලින්නෙ. ධර්මය තුලින් බුදුරජාණන් වහන්සේ දකින්නෙ. අපි ඔබට බුදුරජාණන් වහන්සේ පෙන්වන්නේ ධර්මය තුළින්. එතකොට ඒ ධර්මය තුළින් හික්මිච්ච සඟ පිරිසත් මේ ධර්මය තුළින් කොයිතරම් හිත ශාන්ත කරගන්න ඇති ද කියලා ඒ ශ්‍රද්ධාවන්ත කෙනාට සරණ පිහිටනවා. එතකොට ඒ විදියට තමයි බුදුරජාණන් වහන්සේ ගැන සරණ, ධර්මය ගැන සරණ, සංඝරත්නය ගැන සරණ පිහිටන්නෙ. ඉතින් ගොඩාක් බුද්ධ දේශනා ඉගෙන ගන්න ඔබට අවස්ථාව ලැබුනා මේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන නිසා. ඒ නිසා මේ දායකත්වය දරන පින්වතුනි අප්‍රමාණ සතුටට පත්වෙන්නට ඕන අදත් අපි අහන්නේ ඉතාමත් ලස්සන බුදුගුණ. අපි මීට කලින් යකුන් කියපු බුදුගුණ ඇහැව්වා. ඊට කලින් සනංකුමාර බ්‍රහ්මරාජයා කියපු බුදුගුණ ඇහැව්වා. ඊට කලින් අපි ඇහැව්වා සක්දෙවිඳු කියපු බුදුගුණ. ඊටපස්සෙ අද අපි අහනවා බමුණන් කියපු බුදුගුණ. සාමාන්‍යයෙන් බ්‍රාහ්මණයො හරී අකමැතියිනෙ බුද්ධ ශාසනයට. අද විශේෂයෙන් අද කාලෙ ඉන්දියාවේ බමුණො කැමැතිම නෑ. බුද්ධ ශාසනයේ සියලුම ස්ථාන බමුණො අද ආක්‍රමණය කරලා තියෙන්නෙ ඉන්දියාවෙ. බ්‍රාහ්මණ පැලැන්තිය. එතකොට නමුත්, ඒ බමුණො අතර ලෝකයේම ප්‍රකට ප්‍රසිද්ධ බ්‍රාහ්මණයො බුදුගුණ කියලා තියෙනවා. ඒ වාගේ දේශනාවක් අද අපි අහන්නෙ. අද අපි

ඉගෙනගන්නෙ බුද්ධ කාලයේ හිටපු ප්‍රබල බලවත් බ්‍රාහ්මණයෙක් ගැන. ඒ බ්‍රාහ්මණයාගේ නම සෝණදණ්ඩ. අද අපි ඉගෙන ගන්න දේශනාව සෝණදණ්ඩ සූත්‍රය. ඒක මෙහෙමයි සිද්ධ වුනේ. ඒ කාලේ අපේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ අංග ජනපදයේ චාරිකාවේ වැඩියා බොහෝ භික්ෂූන් වහන්සේලා සමඟ. පඤ්චමත්තෙහි භික්ඛුසතෙහි, භික්ෂූන් වහන්සේලා පන්සීයක්. චම්පා නුවර තමයි බුදුරජාණන් වහන්සේ නැවතුනේ. තත්‍ර සුදං භගවා චම්පායං විහරති ගග්ගරාය පොක්ඛරණියා තීරේ, ගග්ගරා කියන පොකුණු තීරයේ. මේ පොකුණු තීරයේ දහම් දෙසනකොට තමයි අර මෙණ්ඩක, අර ගෙම්බෙක් බණ අහලා දිව්‍යලෝකෙ ගියෙ. එතකොට, තෙන ඛො පන සමයෙන සෝණදණ්ඩො බ්‍රාහ්මණො චම්පං අජ්ඣාවසති, සෝණදණ්ඩ බ්‍රාහ්මණයා චම්පාවේ වාසය කරනවා මගධයේ බිම්බිසාර රජ්ජුරුවන්ගෙන් ලැබිච්ච තෑග්ගක් ඔහුට ඒ ගම. ශ්‍රේෂ්ට තෑග්ගක්. බොහෝ ජනයා, බොහෝ භවබෝග ධාන්‍ය, ඒ ඔක්කෝම ඒ සෝණදණ්ඩ බමුණාට තමයි. ඒ පැත්ත සෝණදණ්ඩ බමුණට දීලා රජ්ජුරුවෝ. එච්චර සෝණදණ්ඩ බමුණා ගැන පැහැදිලා. ඉතින් මිනිස්සු ඔක්කෝම ඔහුට වඳිනවා. පුදනවා, සත්කාර සම්මාන කරනවා. ඉතින් මහා ගරුගාම්භීර බ්‍රාහ්මණයෙක්. අස්සොසුං ඛො චම්පෙය්‍යකා බ්‍රාහ්මණගහපතිකා, චම්පාවේ බ්‍රාහ්මණ ගෘහපතියොන්ට අහන්න ලැබුනා, සමණො ඛලු භො ගොතමො, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ වැඩලා ඉන්නවා, සක්‍යකුලා, ශාක්‍ය කුලයෙන් නික්මිලා, සක්‍යකුලා පබ්බජිතො, ශාක්‍ය කුලයෙන් නික්මිලා තමයි මහණ වෙලා තියෙන්නෙ. දැන් ඒ පැත්තට අලුතෙන්නෙ වඩින්නෙ. අඞ්ගෙසු චාරිකං චරමානො, මේ අංග ජනපදයේ චාරිකාවට වැඩලා සංඝයා පන්සියයක් එක්ක, ඔන්න ගග්ගරා පොකුණේ වැඩ ඉන්නවාලු. තං ඛො පන භවන්තං ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො, ඔය හැමතැනම කතා වෙන්නෙ ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ නිකෙලෙස් කෙනෙක් කියලා, අරහං. සියලු ධර්මයන් ස්වයංභූත් ඥාණයෙන් අවබෝධ කළා කියලා, සම්මාසම්බුද්ධයි. අවබෝධයට අනුව ජීවත් වෙනවා කියලා, විජ්ජාචරණ සම්පන්නයි. සුන්දර නිවනට පත් වුනා කියලා, සුගතයි. සියලු ලෝකයන්ම අවබෝධ කලා කියන්නෙ, ලෝකවිදූ. ඊළඟට ඕනම කෙනෙක් දමනය කරනවා කියන්නෙ, අනුත්තරෝ පුරිසදම්මසාරථී. දෙවියෝ පවා ඇවිල්ලා ප්‍රශ්න විසඳගන්නවාලු, සත්තා දේවමනුස්සානං, දෙව් මිනිස්සුන්ට ශාස්තෘන් වහන්සේ. අන් අයට මේ ධර්මය අවබෝධ කරවන්නට විශේෂ හැකියාවක් තියෙනවාලු, බුද්ධ. ඊළඟට ඒ තරම් වගකීම් දරන, ඒ තරම් සැනසිල්ලේ ඉන්න,

නමුත් ඒ තරම් මහා පුණ්‍යවන්ත, භාග්‍යවන්ත කෙනෙක් ලෝකෙ නෑ කියලයි කතා වෙන්නෙ, භගවා. ඒ නිසා මේ චම්පෙය්‍යාවේ බ්‍රාහ්මණ ගෘහපතිවරු කිව්වා ඒ උත්තමයා තනියෙන් ධර්මය අවබෝධ කරගෙන දෙවි මිනිස් බ්‍රහ්මයන් සහිත ලෝකයේ තමාගේ නුවණින්ම අවබෝධ කරගෙන මුල, මැද, අග පිරිසිදු ධර්මයක් දේශනා කරගෙන යනවා. පිරිසිදු නිවන් මාර්ගයක් කියනවාලු. සාධු ඛො පන තථාරූපානං අරහතං දස්සනං හොතී, ඒ වාගේ රහතන් වහන්සේලා දකින එකත් කොච්චර හොඳ ද කියලා ඒ ගෘහපතිවරු බුදුරජාණන් වහන්සේ බැහැදකින්න ගියා. බලන්න ඒ කාලේ බුදුරජාණන් වහන්සේ යම් ගමකට වඩිනකොට ඒ ගමේ කීර්තිඝෝෂාව පැතිරෙනවා. කොහොමද පැතිරෙන්නේ ගුණ වශයෙන්. මේ වගේ ඒවා ඉතින් අද කාලෙ නෑ. අද කාලෙ නෑ. අථ ඛො චම්පෙය්‍යකා බ්‍රාහ්මණගහපතිකා චම්පාය නික්ඛමිත්වා, චම්පාවෙන් ගිහිල්ලා. සඞ්ඝසඞ්ඝී ගණීභූතා, එකතු වෙලා කණ්ඩායම් කණ්ඩායම් විදියට. යෙන ගග්ගරා පොක්ඛරණී තෙනුපසඞ්කමන්ති, ගග්ගරා පොකුණ ළඟට ගියා. තෙන ඛො පන සමයෙන සොණදණ්ඩො බ්‍රාහ්මණො උපරිපාසාදෙ දිවාසෙය්‍යං උපගතො හොති, සෝණදණ්ඩ බ්‍රාහ්මණයා ඒ තමන්ගේ මාළිගාවේ, තමන්ගේ ගෘහයේ උඩ තට්ටුවේ ජනේලෙ ළඟ විවේකයෙන් වාසය කරනවා, දවල් ආහාරයෙන් පස්සෙ. එයා ජනේලෙන් දැක්කා ගමේ මිනිස්සු කණ්ඩායම් කණ්ඩායම් හැදි හැදී ගග්ගරා පොකුණ පැත්තට යනවා දැක්කා. දැකලා එයා අහනවා, ළඟ හිටියා ඛත්ත කියලා උපස්ථායකයෙක්. තමන්ගේ නිතර ළඟ ඉන්න උපස්ථායකයෙක් හිටියා ඛත්ත එයාගේ නම. එයාට කතා කරලා කියනවා, කින්නු ඛො භො ඛත්තෙ චම්පෙය්‍යකා බ්‍රාහ්මණගහපතිකා, මේ ඛත්ත මොකද මේ බ්‍රාහ්මණ ගෘහපතිවරු කණ්ඩායම් කණ්ඩායම් හැදිලා රංචු රංචු පිටින් මොකද මේ යන්නෙ. දැන් සෝණදණ්ඩ බ්‍රාහ්මණයා ඇහුවා. අත්ථි ඛො භො සමණො ගොතමො සක්‍යපුත්තො සක්‍යකුලා පබ්බජිතො අඞ්ගෙසු චාරිකං චරමානො, කියනවා භවත් සෝණදණ්ඩයෙනි, ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ශාක්‍යකුලයෙන් නික්මිලා පැවිදි වුනේ. ඉතින් එතුමා පන්සීයක් සඟ පිරිසත් පිරිවරාගෙන ඕන් ගග්ගරා පොකුණ ගාවට වැඩලා. ඉතින් මේ මිනිස්සු මේ ගමේම ඉතින් පැතිරිලා තියෙනවානෙ උන්වහන්සේගේ බුදුගුණ. ඉතිපිසෝ භගවා අරහං සම්මා සම්මා සම්බුද්ධෝ විජ්ජාචරණ සම්පන්නො සුගතො ලොකවිදූ අනුත්තරෝ පුරිසදම්ම සාරථී සත්තා දෙවමනුස්සානං බුද්ධො භගවා කියලා. සො ධම්මං දෙසෙති ආදිකල්‍යාණං මජ්ජෙ කල්‍යාණං පරියොසාණ

කල්‍යාණං, අග මුල මැද පිරිසිදු ධර්මය දේශනා කරනවා. ඉතින් මේ මිනිස්සුත් ඒ වාගේ කෙනෙක් දකින්න ඇත්නම් කොච්චර හොඳද කියලා තමයි ඔය මිනිස්සුත් යන්නෙ ඒ පැත්තට. ඊටපස්සෙ සෝණදණ්ඩ බ්‍රාහ්මණයා කියනවා තෙන හි භො ඛත්තෙ යෙන චම්පෙය්‍යකා බ්‍රාහ්මණගහපතිකා තෙනුපසඞ්කම. එහෙනම් ඛත්ත උඹ දැන් දුවගෙන පලයන් ඔය මිනිස්සු ළඟට. ගිහිල්ලා කියාපං සෝණදණ්ඩො භො බ්‍රාහ්මණො එවමාහ: සෝණදණ්ඩ බමුණා මෙන්න මෙහෙම එකක් කිව්වා. ආගමෙන්තු කිර භවන්තො සෝණදණ්ඩො'පි, සෝණදණ්ඩ බමුණත් එනවා එතකල් හිටපල්ලා කියලා ගිහිල්ලා කියාපං කිව්වා. ඔන්න අරයා දුවලා ගිහිල්ලා මිනිස්සුන්ට කිව්වා හිටපල්ලා දැන් සෝණදණ්ඩ බ්‍රාහ්මණයාත් එනවා ගග්ගරා පොකුණ ළඟට යන්න, පොඩ්ඩක් ඉන්න. ඊටපස්සෙ මෙහෙම කියලා දැන් එනකොට තෙන ඛො පන සමයෙන නානාවෙරජ්ජකානං බ්‍රාහ්මණානං පඤ්චමත්තානි බ්‍රාහ්මණසතානි, ඒ දවස්වල නොයෙක් ප්‍රදේශ වලින් ආපු බමුණො පන්සීයක් චම්පාවට ඇවිල්ලා. ඒ අයට ඔතනින් දැන් යනකොට ඒ අයටත් ඇහුනා අර මිනිස්සුන්ට අර ඛත්ත කෑගහලා කිව්වනෙ සෝණදණ්ඩ බ්‍රාහ්මණයා දැන් එනවා කියලා. ඒක ඇහුණා දැන් අර ඒ ගමට ආපු බ්‍රාහ්මණයො පන්සීයට, එක එක පැතිවලින්. ඒ බමුණො කලබල වුනා මේකට. කලබල වෙලා දුවගෙන ආවා සෝණදණ්ඩ බ්‍රාහ්මණයාගේ ගෘහයට එකපිම්මට ආවා. දැන් මෙච්චර කාලයක් මුන් ආවෙ නෑ මේකට. දැන් මේක ආරංචි වුනා විතරයි තත්පරයට ආවා. සච්චං කිර භවං සොණදණ්ඩො සමණං ගොතමං දස්සනාය උපසඞකමිස්සතී, ඇත්තද දැන් සෝණදණ්ඩයන් ශ්‍රමණ භවත් ගෞතමයන් දකින්න යනවා කියලා කියන්නෙ. එවං ඛො මෙ භො හොති සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සාමීති, මම ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ දකින්න දැන් යනවා. මා භං සොණදණ්ඩො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමි, එපා, යන්න නම් එපා ශ්‍රමණ භවත් ගෞතමයන් දකින්න. න අරහති භවං සොණදණ්ඩො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං, ඔයා යන එක හරි නෑ. සුදුසුම නෑ ඔබතුමා යන එක. සචෙ භවං සොණදණ්ඩො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිස්සති, භොතො සොණදණ්ඩස්ස යසො හායිස්සති සමණස්ස ගොතමස්ස යසො අභිවඞ්ඪිස්සති, ඔහොම ගියොත් එහෙම මොකද වෙන්නෙ දන්නවද, ඔහේගේ ගුණ කීර්තිරාවය නැති වෙලා යනවා. ඔහෙත් ගියා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ළඟට කියලා ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ කීර්තිය වැඩිවෙලා යනවා. දැන් බලන්න මේ ලාමක දේවල්

වලටනෙ මේ. යම්පි භොතො සොණදණ්ඩස්ස යසො හායිස්සති සමණස්ස ගොතමස්ස යසො අභිවඪ්ඪිස්සති, ඉමිනා පඞ්ගෙන න අරහති භවං සොණදණ්ඩො සමණං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං, ඕන්න ඕක නිසා තමයි කියන්නෙ යන්න එපා. මේ පුදුම ආදරයකින් මේ කියන්නෙ, යන්න එපා. සමණො ත්වෙව ගොතමො අරහති භවන්ති සොණදණ්ඩං දස්සනාය උපසඞකමිතුං, ඔන්න ශ්‍රමණ භවත් ගෞතමයො එනවානම් මෙහෙට්ට කිසී ප්‍රශ්නයක් නෑ. ඒකට කමක් නෑ, ඔබ යන්න එපා. භවං හි සොණදණ්ඩො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, භවත් සෝණදණ්ඩයන් අම්මා තාත්තාගේ පරම්පරා වලින් හත්මුතු පරම්පරාවක්ම භවත් සෝණදණ්ඩයන්ගේ මීමුතු පරම්පරාවන් අම්මගේ පැත්තෙනුයි, තාත්තාගේ පැත්තෙනුයි අතිශයින් පාරිශුද්ධයි. කැලැල් වෙලා මූණෙ දැලි ගෑවිලා නෑ. මුළු පරම්පරා හතක්ම. ඉතින් ඕන්න ඒ වාගේ කෙනෙක් පරම්පරා හතක් නින්දා ලබලා නෑ සමාජයෙන් ඉතින් ඒ නිසා සෝණදණ්ඩයන්ගේ ඔන්න ඔය ගුණය නිසයි කියන්නෙ, යන්න එපා. ඔබ වාගේ කෙනෙක් ළඟට ශ්‍රමණ භවත් ගෞතමයෝ එනවා නම් අන්න ඒක ගැලපෙනවා, ඒක හොඳයි. ඔබ යන්න එපා. ඊටපස්සෙ තියෙනවා භවං හි සොණදණ්ඩො අඩ්ඪො මහද්ධනො මහාභොගො, සෝණදණ්ඩයෙනි, ඔබ මහත් භවභෝග තියෙන මහත් ධනවත් එක්කෙනෙක්. මේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මහණ උන්වහන්සේ නමක්නෙ. ඒ නිසා ධනවත් කෙනා ළඟට උන්වහන්සේලා එන්න ඕන. ඔන්න අද කාලෙ කට්ටිය වාගේ. ඒ නිසා ඔබ යන එක සුදුසු නෑ. භවත් ගෞතමයන් වහන්සේ ඔබ ළඟට එන එක නම් සුදුසුයි. භවං හි සොණදණ්ඩො අජ්ඣායකො මන්තධරො තිණ්ණං වෙදානං පාරගූ, ඔබ අන් අයට වේද උගන්වන කෙනෙක්, මන්ත්‍ර දන්න කෙනෙක්. ත්‍රිවේදයේ පාරප්‍රාප්ත කෙනෙක්. ඉතිහාසය සහිත සියලූම අංගයන්ගෙන් බමුණු දහමින් පරිපෝෂිත කෙනෙක්. වෙයයාකරණ, ලොකායතනික මහා පුරිස ලක්ෂණ මේ සියල්ලම දන්න කෙනෙක්. ඔබ වාගේ කෙනෙක් යන එක සුදුසු නෑ. ඉන්න, ඒ ශ්‍රමණ භවත් ගෞතමයො මෙහෙට්ට ආවට නම් කමක් නෑ. එතකොට පින්වතුනි මේ බමුණන්ටත් හොඳට මේවා ගලපලා කියන්න පුලුවන්කම බලන්න. ඊටපස්සෙ කියනවා භවං හි සොණදණ්ඩො අභිරූපො දස්සනීයො පාසාදිකො පරමාය වණ්ණපොක්ඛරතාය සමන්නාගතො බ්‍රහ්මවණ්ණී බ්‍රහ්මවච්චසී අක්ඛුද්දාවකාසො දස්සනාය, එතකොට හිතන්න සෝණදණ්ඩ බමුණා කියන්නෙ කවුරු වාගෙ කෙනෙක්ද කියලා. ඉතා රූපවත්, සොඳුරු පෙනුමක්

ඇති, දුටුවන් පහදින, උතුම් වර්ණ සෞන්දර්යයකින් යුතු, රන්වන් පැහැ ඇති කෙනෙක්. බ්‍රහ්මයාගේ බඳු ශරීරාලෝකය ඇති දැකීමට පවා ඉඩකඩ පහසුවෙන් ලබන්න බැරි දුර්ලභ රූපයක් තියෙන කෙනෙක් මේ භවත් සෝණදණ්ඩයො. මෙච්චර ලස්සන රන්කඳක් වාගේ බ්‍රාහ්මණයෙක් කොහොමද යන්නෙ අර ශ්‍රමණයෙක් කෙනෙක් ළඟට. සුදුසු නෑ සුදුසු නෑ. සුදුසු ඒ ශ්‍රමණ භවත් ගෞතමයො මෙහෙට්ට එන එක. භවං හි සොණදණ්ඩො සීලවා වුද්ධසීලී වුද්ධසීලෙන සමන්නාගතො, කියනවා භවං හි සොණදණ්ඩ, භවත් සෝණදණ්ඩ. වුද්ධසීල, වැඩුණු සීලයකින් යුතු, වැඩුණු සීලයකින් සමන්විත කෙනෙක්. ඉතින් ඔබ වාගෙ හොඳ සීල සම්පන්න කෙනෙක් යන එක සුදුසු නෑ. ඔන්න ශ්‍රමණ භවත් ගෞතමයො මෙහෙට එනවා නම් කමක් නෑ. භවං හි සොණදණ්ඩො කල්‍යානවාචො කල්‍යාණවාක්කරණො පොරියා වාචාය සමන්නාගතො විස්සට්ඨාය අනෙලගලාය අත්ථස්ස විඤ්ඤාපනියා, ඉතින් සෝණදණ්ඩයන්ට ලස්සන වචන කතා කරන්න පුලුවන්. මිහිරි වචන, විග්‍රහ කර කර කතා කරන්න පුලුවන්. විශිෂ්ට සම්පන්න වචන තියෙනවා. විසිරුන් නැති වචන තියෙනවා, පැහැදිලි වචන තියෙනවා. අරුත් මතු කොට කතා කරන්න පුලුවන්. ඔබ වාගේ ලස්සනට කතා කරන, උතුම් කතා ඇති කෙනෙක් මේ ජම්බුද්වීපයේම නැති තරම්. යන්න එපා. ශ්‍රමණ භවත් ගෞතමයන් එනකල් ඉන්න. ආවට කමක් නෑ, ඔබ යන එක සුදුසු නෑ. බලන්න මේ බුදු කෙනෙක් ළඟට යන එක වළක්වන්න කියන දේවල්. දැන් අද වුනත් වැඩිය ඕන නෑ, මහමෙව්නාවට එන එක වළක්වන්න, බණ ටිකක් අහන එක වළක්වන්න කයිකතන්දර කීයක් කියනවාද කියලා බලන්න. එතකොට ඒවා පුදුම සහගතයි ද? ඒ කාලෙ බුදු කෙනෙක් ළඟට යන එක වැළැක්වුවා නම් අද මේ මහමෙව්නාවෙන් බණ ටිකක් අහන්න එන එක වළක්වන එකේ පුදුමයක් නැහැ, සෝණදණ්ඩටත් මෙසේ වූවා නම්. අනිත් එක ඔයාලට නම් එක්කෙනෙක් දෙන්නෙක් ඔය කරුණු කියන්නෙ. මෙයාලට පන්සීයක් ඇවිල්ලා මේ කියන්නෙ. වර්ණනා කරලා කියන්නෙ. ඊටපස්සෙ තියෙනවා, භවං හි සොණදණ්ඩො බහුන්නං ආචරියපාචරියො තීණි මාණවකසතානි මන්තෙ වාචෙති, ඔබ ආචාර්යවරුන්ගෙනුත් ආචාර්යවරයෙක්. ගුරු උපදේශක කෙනෙක්. මහාචාර්යවරයෙක් ඔබ. ඊටපස්සෙ කියනවා ඔබ ගාවම ඉගෙන ගන්නවා බ්‍රාහ්මණ ළමයි තුන්සීයක්, වේද හදාරනවා. ඉතින් ඒ නිසා නානා ජනපද වලින් සෝණදණ්ඩ බ්‍රාහ්මණයාගෙන් වේද ඉගෙන ගන්න ඕන කියලා ළඟට එනවා. ඉතින් ඔබ වාගේ කෙනෙක් කියන්නකො යන එක සුදුසුයි ද කියලා. සුදුසු නෑ,

සුදුසු නෑ. සුදුසු ශ්‍රමණ භවත් ගෞතමයො මෙහෙට එන එක. භවං හි සොණදණ්ඩො ජිණ්ණො වුද්ධො මහල්ලකො අද්ධගතො වයො අනුප්පත්තො, ඔබ දැන් හරි වයසක කෙනෙක්, වැඩිමහල් කෙනෙක්, ප්‍රභූවරයෙක්. පිළිවෙලින් වයසට ගිය, බොහෝ දැන උගත් වෘද්ධ සම්පන්න කෙනෙක්. ඒ නිසා සමණො ගොතමො තරුණො චෙව තරුණපබ්බජිතො ච, ශ්‍රමණ භවත් ගෞතමයො තරුණයිනෙ. තරුණ කාලෙ මේ ළඟදි මහණ වෙලා තියෙන්නෙ. ඔබ වාගේ කෙනෙක් යන එක සුදුසු නෑ. ඒ ශ්‍රමණ භවත් ගෞතමයො මෙහෙට එනවා නම් කමක් නෑ. භවං හි සොණදණ්ඩො රඤ්ඤො මාගධස්ස සෙනියස්ස බිම්බිසාරස්ස සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො, මේ සෝණදණ්ඩයන් බිම්බිසාර රජ්ජුරුවෝ පවා ඔබට කොච්චර ගරු කලාද කියලා බලන්න. මේ ගම් නියම්ගම් ඔක්කොම ඔබට දීලා රජවරු පවා ඔබට ගරු කරනවානෙ. හිතන්නකො යන එක සුදුසුයි ද කියලා. සුදුසු නෑ කිව්වා. ශ්‍රමණ භවත් ගෞතමයො එනවා නම් කමක් නෑ. ඊටපස්සෙ විස්තර කරනවා භවං හි සොණදණ්ඩො බ්‍රාහ්මණස්ස පොක්ඛරසාතිස්ස සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො, පොක්ඛරසාති බ්‍රාහ්මණයා මේ ජම්බුද්වීපයේ හරී ප්‍රකට බ්‍රාහ්මණයෙක්. ඒ බ්‍රාහ්මණයා පවා සෝණදණ්ඩ ඔබට ගරු කරනවා නේද, ඔබව බලන්න එනවා නේද. ඒ නිසා ඔබ යන එක සුදුසු නෑ, සුදුසු ශ්‍රමණ භවත් ගෞතමයො ඔබ ළඟට එන එක. ඊටපස්සෙ කියනවා, භවං හි සොණදණ්ඩො චම්පං අජ්ඣාවසති සත්තුස්සදං සතිණකට්ඨොදකං, කියනවා සෝණදණ්ඩයන් මේ බිම්බිසාර රජ්ජුරුවො නිසා ලැබිච්ච රාජ්‍ය දායාදයක් වුනු දින දරදඬු තියෙන, ධන ධාන්‍ය තියෙන, භවබෝග සහිත මෙච්චර සැපයකට පත්වෙලා තියෙනවා. අඩුපාඩුවක් කියලා එකක් නෑ, ඒ නිසා ඔබ වාගේ අය යන එක හොඳ නෑ, සුදුසු නෑ. ශ්‍රමණ භවත් ගෞතමයන් එනවා නම් සුදුසුයි කියනවා. යම්පි භවං සොණදණ්ඩො චම්පං අජ්ඣාවසති, ඉතින් යම් වෙලාවක ඔබ මේ රටේ වාසය කරනවාද බිම්බිසාර රජතුමාගෙන් ලැබිච්ච මේ ධනධාන්‍ය භුක්ති විඳිමින් කීර්තියට පත්වෙලා, ඔබ යන්න එපා. ඊටපස්සෙ අරහති භවං සොණදණ්ඩො ගොතමං දස්සනාය උපසඞ්කමිතුං සමණො ත්වෙව ගොතමො, ශ්‍රමණ භවත් ගෞතමයො සෝණදණ්ඩයන් බලන්න එනවා නම් කමක් නෑ. එවං වුත්තෙ සොණදණ්ඩො බ්‍රාහ්මණො තෙ බ්‍රාහ්මණෙ එතදවොච, මේ විදියට කිව්වා. දැන් ඔබ හිතන්නෙ සාමාන්‍යයෙන් මේ විදියට වර්ණනා කළොත් එහෙම සෝණදණ්ඩ බ්‍රාහ්මණයා මොකක් හිතයි ද, ඔබට හිතෙන්නේ මොකක් ද? තෙන හි හො මම්පි සුණාථ, එහෙනම් බ්‍රාහ්මණවරුනි

මං කියන දේත් අහන්නකො. යථා මයමෙව අරහාම තං භවන්තං ගොතමං දස්සනාය උපසඞ්කමිතුං, මමමයි ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් ළඟට යන්න සුදුසු, මංම යන්න ඕන. නත්වෙව අරහති සො භවං ගොතමො අම්හාකං දස්සනාය උපසඞ්කමිතුං, ඒ භවත් ගෞතමයන් වහන්සේ වාගේ කෙනෙක් මා ළඟට එන එක සුදුසු නෑ. සමෙණො ඛලු භො ගොතමො උභතො සුජාතො මාතිතො ච පිතිතො ච, ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අම්මාගේ පරම්පරාවෙන් මහාමායා දේවියගේ පරම්පරාවෙන්, පියාගේ පරම්පරාවෙන් සුද්ධෝජන රජතුමාගේ පරම්පරාවෙන් පරම්පරා ගණනාවක්, පරම්පරා හතක්ම පාරිශුද්ධයි, දැලි කැළැල් ගෑවිලා නෑ පරම්පරාවේ. නින්දා අපහාස විඳලා නෑ පරම්පරාවම. ඒ වාගේ සුජාත උපතක් තියෙන, ගැරහුමක් නැති ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ වගේ කෙනෙක් ළඟට මමයි යන්න ඕන. උන්වහන්සේ මං ළඟට එන එක සුදුසු නෑ. කොහොමද මෙයා තවම එකම දවසක්වත් බුදුරජාණන් වහන්සේ දැකලා නෑ, මෙයා තවම බුදුරජාණන් වහන්සේත් එක්ක එක දවසක් වත් කතා කරලා නෑ. මෙයා තවම බුදුරජාණන් වහන්සේ ඉදිරියේ ශ්‍රාවකත්වය ප්‍රකාශ කරලා නෑ. මේ විදියට බුදුගුණ කියන්න පුලුවන් ද ඔබට කියලා බලන්න ඔබගේ ජීවිතයේ. මේ තවම ශ්‍රාවකත්වයට ඇවිල්ලා නෑ. දැන් බමුණෙක් විදියට බුදුරජාණන් වහන්සේ ගැන දන්න ඒවා. සමණො ඛලු භො ගොතමො මහන්තං ඤාතිසඞ්ඝං ඔහාය පබ්බජිතො, ශ්‍රමණ භවත් ගෞතමයො බොහෝ ඥාතීන් අත්හැරලා පැවිදි වෙච්ච කෙනෙක්. ශාක්‍ය වංශයේ, කෝලිය වංශයේ, කපිල වස්තුවේ සියලු ඥාතීන් අත්හැරලානෙ පැවිදි වුනේ. සුදුසුයි ඒ උත්තමයා ළඟට අපි යන්න ඕන. උන්වහන්සේ අපි ගාවට එන එක හොඳ නෑ. ඒ නිසා බුදු කෙනෙක් ළඟට අපි යන්න ඕන. සමණො ඛලු භො ගොතමං පහූතං හිරඤ්ඤසුවණ්ණං ඔහාය පබ්බජිතො භූමිගතඤ්ච වෙහාසට්ඨං ච, ඒ ශ්‍රමණ භවත් ගෞතමයො පොළොව ඇතුලෙ තියෙන, පොළොව උඩ තියෙන ගොඩාක් ධන ධාන්‍ය, රන් රිදී, මුතුමැණික් අත්හැරලා තමයි මහණ වෙන්න ආවෙ. ඒ වාගේ මහා ධනයක් අත්හැරලා මහණ වෙන්න ආපු කෙනෙක් ගාවට අපි සුදුසු නෑ, උන්වහන්සේ අපි ළඟට එන එක. අපි යන්න ඕන ඒ උත්තමයා බලන්න. සමණො ඛලු භො ගොතමො දහරෝ'ව සමානෙ යුවා සුසු කාළකෙසො භද්‍රෙන යොබ්බනෙන සමන්නාගතො පඨමෙන වයසා අගාරසමා අනගාරියං පබ්බජිතො, ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ පුංචි කාලෙ තරුණ කාලෙ කළු පාට කෙස් තියෙන කාලෙ, යොවුන් වයසේ පළවෙනි වයස් සීමාවෙ ගෙදරින් නික්මිලා පැවිදි

වෙච්චි කෙනෙක්. තරුණ කාලෙම ඒ වාගේ පැවිදි ජීවිතයක් සෙයාගෙන ගිහිගෙයින් අභිනිෂ්ක්‍රමණය කරපු කෙනෙක් ගාවට අපි යන්න ඕන. උන්වහන්සේ අපි ළඟට එන්න ඕන නෑ. සමණො ඛලු භො ගොතමො අකාමකානං මාතාපිතුන්නං අස්සුමුඛානං රුදන්තානං කෙසමස්සුං ඔහාරෙත්වා කාසායනි වත්ථානි අච්ඡාදෙත්වා ආගරස්මා අනගාරියං පබ්බජිතො, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ගෙදරින් පන්නලාවත් මහණ වෙන්න ආපු කෙනෙක් නෙවෙයි. ණය වෙලා ණය ගෙවාගන්න බැරිව මහණ වෙච්චි කෙනෙක් නෙවෙයි. ජීවත් වෙන්න බැරිව, ජීවත් වෙන්න ක්‍රමයක් නැති නිසා මහණ වෙච්චි කෙනෙක් නෙවෙයි. අම්මලා තාත්තලාගේ ආදරයක් නැතිව මහණ වෙච්චි කෙනෙක් නෙවෙයි. දෙමව්පියො හඬද්දි වැළපෙද්දි ඒ දෙමව්පියන්ගේ අකමැත්තෙන්, එපා එපා කියද්දිත්, කඳුළු වැටුණු මුහුණු තියෙද්දිත් ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මහණ වෙන්න ගියා. ඒ වාගේ උත්තමයෙක් බලන්න අපි යන්න ඕන. ඒ වාගේ උත්තමයෙක් අපි බලන්න යන්න ඕන. ඒ කාලෙ තියෙන්නෙ බලන්න යන්න ඕන. දැන් කියන්නෙ ඕන් අම්මා රිදවලා ගියෙ. අම්මා අඬවලා ගියෙ. දෙමව්පියන්ට දුක් ගින්දර දීලා මොන නිවනක් ද උන්ට. එහෙම නේද අද කාලෙ කියන්නෙ. ඒ කාලෙ කියන්නෙ දෙමව්පියො එච්චර ආදරෙන් ඉදිද්දිත් ඒවා පවා අතහැරලා පැවිදි වෙන්න ගියානෙ. අපි ඒ වාගේ අය බලන්න යනවා නම් කොච්චර හොඳ ද කියලා. එහෙම. මේක නිසා මට වෙච්චි යහපතක් මං කියන්නම්. ඒ තමයි අපේ ගමෙනුත් මහණ වෙන්න ආවා මහමෙව්නාවෙ. එතකොට එහෙම ආවට පස්සේ ඒ පැවිදිවෙන්න අනේ කොච්චර හොඳද මේ තරුණ ජීවිතේ, ළමා ජීවිතේ මහණ වෙන්න ගිය එක කියලා අපි කණ්ඩායමක් අපි ආවා පොල්ගහවෙලට ඒ මහණ වෙන්න ආපු අය බලන්න. ආන්න එදා බණ අහලා තමයි මට මහණ වෙන්න හිතුනෙ. එතකොට මහණ වෙන්න ගිය අය බලන්න යෑමේ ආනිසංස කොච්චරද කියලා හිතන්න. කොච්චර ද කියලා හිතන්න. ඊටපස්සෙ තියෙනවා සමණො ඛලු භො ගොතමො අභිරූපො දස්සනීයො පාසාදිකො, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ගොඩාක් ලස්සනයි. දර්ශනීයයි, ප්‍රසාදජනකයි. රන්වන් පැහැයෙන් යුක්තයි, බ්‍රහ්මයාගේ බඳු ශරීරාලෝකයක් තියෙනවා. දැකීමට පවා ඉඩකඩ අපහසුයි. උන්වහන්සේ බලන්න එක එක්කෙනා උර උස්ස උස්සා බලන්නේ ඇඟිලි වලින් හිටගෙන. මොකද පිටිපස්සේ ඉන්න අයට පේන්නැති තරම්. කට්ටිය පොරකනවා උන්වහන්සේ වඩිනකොට ඇත ඉඳලා බලන්න ඕන කියලා, එච්චර ලස්සනයි. ඉතින් ඒ වාගේ උත්තමයෙක් ළඟට අපි යන්න ඕන

නේද. ඊටපස්සෙ කියනවා, සමණො බලු භො ගොතමො සීලවා අරියසීලී කුසලසීලී කුසලසීලෙන සමන්නාගතො, ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ආර්ය ශීලයෙන් යුක්තයි. කුසල් සීලයෙන් යුක්තයි. ඒ වාගේ උත්තමෙයක් බලන්න අපි යන්න ඕන. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අපි ළඟට එන්න ඕන නෑ. සමණො බලු භො ගොතමො කල්‍යාණවාචො කල්‍යාණවාක්කරණො පොරියා වාචාය සමන්නාගතො විස්සට්ඨාය අනෙලගලාය අත්ථස්ස විඤ්ඤාපනියා, ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මිහිරි වචන කතා කරනවා, මිහිරි ලෙස කරුණු විග්‍රහ කරනවා, ශිෂ්ට සම්පන්න වචන කතා කරනවා, නොවිසුරුණු වචන කතා කරනවා, පැහැදිලි වචන කතා කරනවා, අරුත් මතුවෙන විදියට කතා කරනවා. ඒ වාගේ උත්තමෙයක් ළඟට අපි නේද යන්න ඕන. ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අපි ළඟට එන්න ඕන නෑ. ඊටපස්සෙ කියනවා සමණො බලු භො ගොතමො බහූනං ආචරියපාචරියො, ශ්‍රමණ භවත් ගෞතමයො බොහෝ ගුරුවරුන්ටත් ගුරුවරු. ඇයි ඒ කාලෙ හිටපු උරුවෙල් කාශ්‍යප, නදී කාශ්‍යප, ගයා කාශ්‍යප කියන්නෙ මහා ප්‍රසිද්ධ ගුරුවරුනෙ. ඒ ඔක්කොම බුදුරජාණන් වහන්සේ ළඟ මහණ වෙන්න ආවානෙ. ගුරුවරුන්ගෙත් ගුරුවරුනෙ. ඉතින් ඒ නිසා උන්වහන්සේ මහා ආචාර්යවරයෙක්. සමණො බලු භො ගොතමො ඛීණකාමරාගො විගචාපල්යො, ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ කාමරාගය ක්ෂය කරපු කෙනෙක්. ඒ වගේම චපලකම ක්ෂය කරපු කෙනෙක්. ඒ වාගේ අය දකින්න යන්න ඕන නේද. සමණො බලු භො ගොතමො කම්මවාදි කිරියවාදී අපාපපුරෙක්ඛාරො බ්‍රහමඤ්ඤාය පජාය, කියනවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ක්‍රියාවාදී කෙනෙක්. ඒ කියන්නෙ කරන දේ විපාක තියෙනවා. ඊළඟට කම්මවාදී, කර්මානුරූප පැවැත්මක් ගැන කතාකරනවා. ඊළඟට ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ උතුම් බ්‍රාහ්මණ පිරිසටත්, අවශේෂ ප්‍රජාවටත් නායකත්වය දරනවා. බමුණන්ට පවා නායකත්වයක් දෙනවා. ඒ වගේ අය දකින්න අපි යන්න ඕන. සමණො බලු භො ගොතමො උච්චා කුලා පබ්බජිතො අසම්භින්නඛත්තියකුලා, බුදුරජාණන් වහන්සේ ශ්‍රමණ භවත් ගෞතමයන් උසස් කුලයේ කෙනෙක්. රජ කුලයේනෙ. සක්විති රජකම ලැබෙන්න හිටපු කුමාරයානෙ මහණ වෙලා තියෙන්නෙ. අපි යන්න ඕන ඒ උත්තමයා බලන්න. සමණො බලු භො ගොතමො අඩ්ඪා කුලා පබ්බජිතො මහද්ධනා මහාභොගා, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මහා භවබෝග තියෙන කුලයකින්නෙ පැවිදි වෙන්න ආවෙ, ඇයි සතරමහා නිධානෙ පහළ වෙන්න තිබ්බ කෙනානෙ.

ඒ වාගේ උත්තමයෙක් බලන්න අපිනෙ යන්න ඕන. සමණො බලු හො ගොතමං තිරොරට්ඨා තිරොජනපදා පඤ්හං සම්පුච්ඡිතුං ආගච්ඡන්ති, ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේගෙන් ප්‍රශ්න අහන්න ඕන කියලා ඈත ජනපදවල, පිටරටවල් වල ඉඳලා, පිට ප්‍රදේශ වල ඉඳලා මිනිස්සු එනවා ප්‍රශ්න වලට උත්තර හොයාගෙන යන්න. ඒ වාගේ උත්තමයෙක් ගාවට අපි නේද යන්න ඕන. සුදුසු නෑ අපි ගාවට ඒ උත්තමයා එන එක. සමණං බලු හො ගොතමං අනෙකානි දෙවතාසහස්සානි පාණෙහි සරණං ගතානි, ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අනේක දහස් ගණන් සිය දහස් ගණන් දෙවිවරු උන්වහන්සේ සරණ ගියා. දෙවිවරු පවා සරණ යනවා කියලා යමක් ඇද්ද, ඒ භවත් ගෞතමයන් වහන්සේ ළඟට අපි යන්න ඕන නේද. සමණං බලු හො ගොතමං එවං කල්‍යාණො කිත්තිසද්දො අබ්භුග්ගතො ඉතිපි සො භගවා අරහං සම්මාසම්බුද්ධො, ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ගැන උඹලට ඇහුන් නැද්ද කීර්ති ඝෝෂාවක් පැතිරිලා තියෙනවා අරහං, සම්මාසම්බුද්ධයි, විජ්ජාචරණ සම්පන්නයි, සුගතයි, ලෝකවිදූ, අනුත්තර පුරිසදම්මසාරථී, සත්තාදේවමනුස්සානං, බුද්ධ, භගවා කියලා. මේ විදියට කීර්ති රාවයක් යනවා ඇහුන් නැද්ද. ඒ වාගේ උත්තමයෙක් ගාවට අපි යන්නැතිව ඒ උත්තමයා අපි ළඟට එන එක සුදුසු ද? අහනවා, බ්‍රාහ්මණවරුනි, සමණො බලු හො ගොතමො ද්වත්තිංසමහාපරිසලක්ඛණෙහි සමන්නාගතො, ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ද්වත්තිංසමහා පුරුෂ ලක්ෂණයන්ගෙන් සමන්විතයි. ඒ තථාගතයන් වහන්සේට තියෙනවා සමලෙස පොළොවේ පිහිටන සිරිපා. දික්විලුඹක් තියෙනවා, දික් ඇඟිලි තියෙනවා. සිරිපා යට දහසක් අර ඇති දහසක් නිම්වළලු වලින් සුසැදි චක්‍රලක්ෂණය තියෙනවා. ඒණි මුවෙක්ගේ වගේ කෙණ්ඩා තියෙනවා, ගොප් ඇට ඉස්සිලා තියෙන්නෙ. හිටගෙන නැවෙන්නැතිව දණහිස් අල්ලන්න පුලුවන්. බ්‍රහ්මයෙක්ගේ වගේ ඍජු ශරීරයක් තියෙනවා. ශරීරය වටකුරුයි. සත් තැනක උස්ව පිහිටි මාංශ තියෙනවා. රන්වන් ශරීරයෙන් යුක්තයි. සිනිඳු සමක් තියෙන්නෙ, දූවිලි වත් වදින්නෙ නැති. අත්වල ඇඟිලි පවා, ශ්‍රී හස්තයේ ඇඟිලි පවා බොහෝ දිගයි. ඒ උත්තමයාගේ රෝම කූප වලින් එක තැනක එක රෝම කූපයයි ඇවිල්ලා තියෙන්නෙ. උඩට හැරිලා දක්ෂිණවර්තව කැරකිලා තියෙන්නෙ. ඇහිබැම දෙක අතර සුදුවන් වූ ඌර්ණ රෝම ධාතුව තියෙනවා. නෙත් දෙක නිල්ම නිල් පාටයි, එදා ඉපදුනු වහුපැටියෙක්ගේ වගේ. උන්වහන්සේගේ දන්ත ධාතූන් වහන්සේලා හතලිස් නමක් වැඩ ඉන්නවා. උඩු ඇන්දේ දත් විස්සයි, යටි ඇන්දේ දත් විස්සයි. සම ලෙස පිහිටලා තියෙනවා විවර

නෑ දත් අතර. අහුත ජිව්හෝ, ඕන වෙලාවක එළියට අරන් ඕන තරම් පළල් කරන්න පුලුවන් දිවක් තියෙනවා. ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේට පුලුවන් ඕනෙනම් ඒ දිවෙන් මූන වහන්න. කන්දෙක පිරිමදින්න පුලුවන්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේට සිංහයෙක්ගේ වගේ ශරීරයක් තියෙනවා. සීහ පුබ්බද්දකායෝ. ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේගේ නළල පිරිපුන් නළලක් තියෙන්නෙ. ඒ ශ්‍රමණ භවත් ගෞතමයන්ට බ්‍රහ්මස්වරය තියෙනවා. ඉතින් මේ විදියට නිල්වන් කේශ කළඹ, මේ විදියට අනේක කෝසෝහිත වත්තගුහිථ තියෙනවා. මේ විදියට දෙතිස් මහා පුරුෂ ලක්ෂණ කිව්වා. ඉතින් මේවා තියෙන උත්තමයෙක් ළඟට අපි නේද යන්න ඕන. ඊටපස්සෙ කියනවා සමණො බලු භො ගොතමො එහිස්වාගතවාදී, එන්න කියලා ඇරියුම් කරනවා. සතුටු සාමීචි කතා කරනවා. ඊළඟට ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ඉතා කරුණාවෙන් කතා කරනවා, ඇහිබැම හකුලුවලා බලන් නෑ. ඊළඟට ඕනෑම කෙනෙක් දිහා ප්‍රිය ඇසින් බලනවා. මූණ උස්සලා කෙලින් බලන කෙනෙක්. ඊළඟට පළමුවෙනින් කතා කරන කෙනෙක්. එයා කතා කරයි කියලා එහෙම ඔරොප්එකට ඉන්නෑ. උන්වහන්සේම කොහොමද කියලා කතා කරනවා. ඒවගේ උත්තමයෙක් ගාවට අපි යන්න ඕන නේද. සමණො බලු භො ගොතමො චතුන්නං පරිසානං සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේට චතුපරිස, මොනවද චතුපරිස කියලා කියන්නෙ. භික්ෂු භික්ෂුණී උපාසක උපාසිකා කියන සිව්වනක් පිරිසම උන්වහන්සේගේ ශ්‍රාවකයො, පුදුම විදියට උන්වහන්සේට ගරු කරන්නෙ. ඉතින් අපි යන එක සුදුසුයි නේද? දැන් මේ තවම බුදුගුණ කියනවා. මේ කියන්නෙ කවුද, බ්‍රාහ්මණයෙක්. ඔබට බුදුගුණ මෙහෙම කියන්න පුලුවන් ද කියලා බලන්න. ඊටපස්සෙ තියෙනවා සමණෙ බලු භො ගොතාම බහූ දෙවා ච මනුස්සා ච අභිප්පසන්නා, දෙවියොයි මිනිස්සුයි පුදුම කැමැතියි, පුදුම පැහැදිලා ඉන්නෙ බුදුරජාණන් වහන්සේට. ඒ වාගේ උත්තමෙයක් ගාවට අපි යන්න ඕන. සමණො බලු භො ගොතමො යස්මිං ගාමෙ වා නිගමෙ වා පටිවසති, න තස්මිං ගාමෙ වා නිගමෙ වා අමනුස්සා මනුස්සෙ විහෙඨෙන්ති, යම් ගමක ශ්‍රමණ භවත් ගෞතමයො වැඩ ඉන්නවාද, ඒ ගමට ගමේ මිනිස්සුන්ට අමනුෂ්‍යයො කරදර කරන් නෑ. වෙහෙසන් නෑ. බලන්න යම් ගමක චෛත්‍යයක් බෝධියක් ධාතූන් වහන්සේ නමක් වැඩ ඉන්න එකේ ආනුභාවය. ඒ මිනිස්සුන්ට පුදුම යහපතක්. එහෙනම් ද්‍රෝණයක් ධාතූන් වහන්සේලා වැඩ ඉන්න ස්වර්ණමාලී සෑරදුන් වහන්සේට ජීවිතේ පූජා කරලා පිරිත් කියලා ආශිර්වාද අරන් එන එක

කොයිතරම් වටිනවාද. ඒ කාලෙ පවා පැතිරුණා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ යම් ගමකට වඩිනකොට ඒ මිනිස්සු කෙරෙන් අමනුස්සයෝ ඒ මිනිස්සු අත් හරිනවා කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ ගමක් හරහා නිකං වැඩියත්, ඒ මිනිස්සු බණ ඇහුවෙ නැතත්, දැක්කෙ නැතත්, බුදුරජාණන් වහන්සේ වඩින එකේම ආශ්චර්ය බලන්නකො. කොයිතරම් යහපතක් තියෙනවාද කියලා බුදුරජාණන් වහන්සේ. ඊටපස්සෙ දේශනා කරනවා, ඉතින් ඒ නිසා මේ කරුණු කාරණා හොඳට හිතන්න ඕන. බුදුරජාණන් වහන්සේ යම්තැනක වඩිනකොට මේක තමයි කියන්නෙ බුදුරජාණන් වහන්සේ යම් ගමකට සිරිපා තැබුවොත් ඒ ගමේ ඉන්න මිනිස්සු කෙරෙන් අමනුෂ්‍යයෝ ඒ මිනිස්සු අත්හැරලා යනවා කියලා. ඊළඟට තියෙනවා සමණො ඛලු භො ගොතමො සඞ්ඝී ගණී ගණාචරියො පුථුතිත්ථකරානං අග්ගමක්ඛායති, කියනවා ශ්‍රමණ භවත් ගෞතමයන් බොහෝ පිරිස් ඉන්න, විශාල පිරිස් වලට ආචාරීන් වහන්සේ නමක්. බොහෝ ආගමික නායකයන් අතරින් උන්වහන්සේ තමයි අග්‍ර. බොහෝ ආගමික නායකයන් අතරින්. ඇයි ඉතින් ෂඩ් ශාස්තෘවරු, ඊළඟට එක එක වාද විවාද, හැට දෙකක් මතවාද දරන ශ්‍රමණ බ්‍රාහ්මණයන් අතර, ඒ සියල්ල සිඳලූ බුදුරජාණන් වහන්සේම අග්‍රයිනෙ. මේ විදියට විස්තර කියන්න පුලුවන් වෙන ශාස්තෘන් වහන්සේ නමක් කියන්න බලන්න. දැන් අපි මේ දහම් වැඩසටහන දැන් මේ වෙනකොට වැඩසටහන් පනස් හයක්, එතකොට මෙච්චර බුදුරජාණන් වහන්සේ මෙහෙමයි, බුදුරජාණන් වහන්සේ මෙහෙමයි, මෙහෙමයි, මෙහෙමයි කියලා කියනවා, තව ඉවර නෑ. කියූ බුදුගුණ අල්පයයි, නොකියූ බුදුගුණ මහමෙරක් තරම්. එයද උපමාව වැරදියි. ඊටත් වැඩියි. ඒ නිසා මේ ලෝකෙ සියලු ශාස්තෘන් වහන්සේලා අතර ආගමික නායකයන් අතර, දෙවියන් බඹුන් අතර බුදුරජාණන් වහන්සේ තරම් නම් කෙනෙක් නම් නෑ. ඉතින් ඒ වාගේ උත්තමයො ළඟට යන්න ඕන. අපි පැමිණෙන්න ඕන ඒ උත්තමයන් ළඟට. ඊටපස්සෙ කියා හිටිනවා මේ බ්‍රාහ්මණයා, යථා ඛො පන භො එකෙසං සමණබ්‍රාහ්මණානං යථා වා තථා වා යසො සමුදාගච්ඡති න හෙවං සමණස්ස ගොතමස්ස යසො සමුදාගතො. අථ ඛො අනුත්තරාය විජ්ජාචරණසම්පදාය සමණස්ස ගොතමස්ස යසො සමුදාගතො, කියනවා මේ ලෝකයේ ඇතැම් ශ්‍රමණ බ්‍රාහ්මණයන්ගේ කීර්ති ඝෝෂාව පැතිරිලා තියෙන්නෙ එයාලා සමාදන් වුනු ව්‍රත, එයාලා කරන දේවල්, එයාලා ඇඳුම් අඳින් නෑ, අතින් කන්නෙ, එයාගේ කොණ්ඩෙ දිගයි. ජටාවක් බැඳගෙන ඉන්නෙ, අලු තවරගෙන ඉන්නෙ. ඔන්න ඕවා තමයි වෙන ආගමික

නායකයො ගැන කතා කරන්නෙ. ඒ වුනාට බලන්නකො මේ ශ්‍රමණ භවත් ගෞතමයන් ගැන කතා කරන්නෙ විජ්ජාචරණ සම්පන්න ගුණය, මෙහෙම මෙහෙම අවබෝධ කලා, මේ විදියට සොඳුරු හැසිරීම් තියෙන, මෙච්චර අවබෝධයක් තියෙන කෙනෙක් කියලා බුදුරජාණන් වහන්සේගේ අවබෝධය ගැන තමයි කතා කරන්නෙ. ඉතින් ඒකෙනුත් තේරුම් ගන්නකො ඒ උතුම් කෙනෙක් කියලා. ඉතින් බ්‍රාහ්මණවරුනි, අපි යන එකනෙ සුදුසු. ඒ උත්තමයා අපි ළඟට එන එක සුදුසු නෑ. සමණං බලු භො ගොතමං රාජා මාගධො සෙනියො බිම්බිසාරො සපුත්තො සභරියො සපරිසො සාමච්චො පාණෙහි සරණං ගතො, ඒ බිම්බිසාර රජ්ජුරුවො සරණ ගියා. බිරින්දෑවරු, ඇයි ඛේමා මහණ වුනා ඛේමා උත්තමාවිය. ඉතින් බිරිඳ දරුවන් සහිත සියලු දෙනා බුදුරජාණන් වහන්සේ සරණ ගිහිල්ලා ඉන්නෙ බිම්බිසාර රජ්ජුරුවන්ගෙ, රජගහනුවර. ඉතින් රජවරු පවා සරණ ගිහිල්ලා ශ්‍රාවකයො විදියට ඉන්නවා නම් ඒ වාගේ උත්තමයො ආවට පස්සෙ ඒ අය අපේ ගෙවල්වලට වඩිනකල් ඉන්නවාද, අපි නේද යන්න ඕනවෙන්නෙ. ඊටපස්සෙ කියනවා සමණං බලු භො ගොතමො රාජා පසෙනදී කොසලො සපුත්තො සපරිසො සාමච්චො පාණෙහි සරණං ගතො, පසේනදී කෝසල රජ්ජුරුවො, ඒ තමයි ජම්බුද්වීපයේ හිටපු බලවත්ම රජා, ඒ කොසොල් මහා රජ්ජුරුවොත් අඹුදරුවන් සහිතව බුදුරජාණන් වහන්සේ සරණ ගියා. එහෙව් එකේ මේ අපි මොකක්ද, අපිට මොනවා තිබිලද කියලා ඇහැව්වා. ඊටපස්සෙ කියනවා සමණං බලු භො ගොතමං බ්‍රාහ්මාණො පොක්ඛරසාතී සපුත්තො සභරියො සපරිසො සාමච්චො පාණෙහි සරණං ගතො, ඇයි අහලා නැද්ද, පොක්ඛරසාතී මට ගරු කරනවා කියලා ඔහෙලා අහලා තියෙනවා. ඇයි අහලා නැද්ද පොක්ඛරසාතී බ්‍රාහ්මණයා බුදුන් සරණ ගියා කියලා. දහම් සරණ ගියා කියලා, සඟුන් සරණ ගියා කියලා. අඹුදරුවන් සහිත පරම්පරාවම තෙරුවන් සරණ ගිහිල්ලානෙ. ඉතින් ඒ වාගේ උත්තමයෙක් ළඟට අපි යන්න ඕන නේද? ඊටපස්සෙ කියනවා, සමණො බලු භො ගොතමො රඤ්ඤො මාගධස්ස සෙනියස්ස බිම්බිසාරස්ස සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො, අපිට බිම්බිසාර රජ්ජුරුවො මේ ගම දීලා තියෙනවා. එහෙම නෙමෙයි බිම්බිසාර රජ්ජුරුවන්ගේ ප්‍රධාන උයන, ආරාම, වෙහෙර විහාර ඔක්කොම හදලා බිම්බිසාර රජ්ජුරුවෝ පූජා කලානෙ. බිම්බිසාර රජ්ජුරුවො මේ මහපොළොව වුනත් බුදුරජාණන් වහන්සේට පූජා කරනවානෙ, එහෙම එකේ අපි නේද යන්න ඕන කියලා කිව්වා. සමණො බලු භො ගොතමො රඤ්ඤො පසෙනදිස්ස කොසලස්ස සක්කතො

ගරුකතො මානිතො පූජිතො අපචිතො, ඒ කොසොල් මහා රජ්ජුරුවෝ මුළු රාජ්‍යයම පූජා කරයි බුදුරජාණන් වහන්සේට. ඒ වාගේ උත්තමයෙක් ගාවට, ගරු සම්මාන ලබන කෙනෙක් ගාවට අපි නේද යන්න ඕන කිව්වා. හොඳ නෑ කිව්වා අපි නොයා ඉන්න එක. සමණො බලු භො ගොතමො බ්‍රාහ්මණස්ස පොක්ඛරසාතිස්ස සක්කතො ගරුකතො මානිතො පූජිතො අපචිතො, පොක්ඛරසාතී බ්‍රාහ්මණයා පවා බුදුරජාණන් වහන්සේට ඔය විදියට අප්‍රමාණ ගරු සත්කාර සම්මාන කරනවා. ජීවිතේ වුනත් පුදනවා. ඉතින් කියනවා සමණො බලු භො ගොතමො චම්පං අනුප්පත්තො චම්පායං විහරති ගග්ගරාය පොක්ඛරණියා තීරෙ, චම්පාවට වැඩලා ගග්ගරා පොකුණු තීරේ උන්වහන්සේ වැඩ ඉන්නවා. යෙ ඛො පන භො කෙචි සමණා වා බ්‍රාහ්මණා වා අම්හාකං ගාමක්ඛෙත්තං ආගච්ඡන්ති, යම්කිසි ශ්‍රමණ බ්‍රාහ්මණයෙක් අපේ ගමට ආවොත් එහෙම, අත්ථි නො තෙ හොන්ති, ඒ අයට ආගන්තුක සත්කාර කරන්න ඕන නේද? අත්ථි ඛො පනම්හෙහි සක්කාතබ්බා ගරුකාතබ්බා මානෙතබ්බා පූජෙතබ්බා අපචෙතබ්බා, ඒ ආගන්තුක ආපු අයට අපි ගම්වැසියො විදියට අපි නේද ගිහිල්ලා ගරුබුහුමන් කරලා පිළිගන්න ඕන. ඉතින් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ චම්පාවට වැඩලා. උන්වහන්සේට ගරු කළ යුතුයි. මෙන්න මේ අංග වලින් තේරුම්ගන්න කිව්වා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අපි ළඟට එන එක සුදුසු නෑ, අපි ඒ උත්තමයා ළඟට යන එක සුදුසුයි. කොහොමද බමුණු පන්සීයේ කටවල් වැහෙන්න ඇති. ආයෙ කටක් අරින්න කෙනෙක් නෑ. ඊටපස්සෙ කිව්වා, දැන් මොකක්ද කියන්නෙ කියලා. එත්තකො ඛො අහං භො තස්ස හොතො ගොතමස්ස ගුණෙ පරියාපුණාමි. සෝණදණ්ඩ කියනවා, මං ඔය දන්න ටික මං ඔය කිව්වෙ. නො ච ඛො සො භවං ගොතමො එතක්කවණ්ණො, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේගේ ගුණ ඔච්චරයි නෙවෙයි. අපරිමාණවණ්ණො, අපරිමාණයි. සො භවං ගොතමො, ඒ භවත් ගෞතමයන් වහන්සේ. මම දන්නැතිව මිසක්කා, වර්ණනා ගුණ කඳ අනන්තයි අප්‍රමාණයි. පුදුම සහගතයි මේ සෝණදණ්ඩ බ්‍රාහ්මණයා. පුදුම සහගගතයි. එවං වුත්තෙ තෙ බ්‍රාහ්මණා සොණදණ්ඩං බ්‍රාහ්මණං එතදවොචුං, ඒ බමුණො ටික ඔක්කොම මීක් ගාන්නැතිව අහගෙන හිටියා. ඉවරවෙනකොට කියනවා, යථා ඛො බවං සොණදණ්ඩො සමණස්ස ගොතමස්ස වණ්ණෙ භාසති, දැන් ඔය ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ ගුණ කිව්වානෙ සෝණදණ්ඩයා, ඉතො චෙ'පි සො භවං ගොතමො යොජනසතෙ විහරති, අලමෙව සද්ධෙන කුලපුත්තෙන දස්සනාය උපසඞ්කමිතුං අපිපුටොසෙන,

කියනවා ගග්ගරා පොකුණ නෙවෙයි. යොදුන් සීයක් දුරින් හිටියත් අපිනෙ යන්න ඕන කිව්වා. අපිනෙ යන්න ඕන කිව්වා ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ළඟට. ශ්‍රද්ධාවන්ත කුල පුත්‍රයෙක්, බුදුරජාණන් වහන්සේ බැහැදකින්න යොදුන් සීයක් වුනත් දුර යන්න ඕන කියනවා. එහෙනම් මහා සෑය වදින්න පිටරට ඉඳලා එනවා කියන එක මහාලොකු එකක් ද, ඒක කළ යුතු එකක්. ඒක ශ්‍රද්ධාවන්ත කුල පුත්‍රයෙක් කලයුතු දෙයක්. ඒ නිසා ලංකාවට පිටරට ඉඳලා එන කෙනෙක් ලංකාවට ඇවිල්ලා මහාසෑය වඳින්නැතිව, මහාබෝධිය වඳින්නැතිව යන්න එපා. ඊටපස්සෙ කියනවා, තෙන හි භො සබ්බෙව මයං සමණං ගොතමං දස්සනාය උපසඞකමිස්සාම, සැදැහැවන්ත කුල පුත්‍රයෙක් මගවියදම් දරන් යන්න සුදුසුයි කියනවා අපි දැන් යං. දැන් බලන්න බුදුගුණ දැනගෙන බුදුගුණ කියන්න දක්ෂ වෙච්චි නිසා සෝණදණ්ඩ බ්‍රාහ්මණයා එක්කෙනෙක් වළක්වන්න ආපු පන්සීයක් ඇදගෙන ගියෙ නැද්ද එතනින්. එහෙනම් මේ අපිට අපි කියමුකො ධර්මයට විරුද්ධව, සත්පුරුෂයන්ට විරුද්ධව කරුණු කියන අය මිනිස්සු ඒ පැත්තට නම්මගන්නෙ අසත්පුරුෂ පැත්තට, අසත්පුරුෂයා කොහොමත් අසත්පුරුෂයිනෙ. නැමෙන එකාගෙ තියෙන සරණ නැති එක. තිසරණය නැති එක. එතකොට අපිට ශාසනයට විරුද්ධව කියන අය ඉදිරියේ අපි කටවල් වහගන්නෙ ඇයි. අපිටත් මේවා දන්නැති එක. එතකොට ව්‍යක්ත චතුර කෙනෙක් නම් අර විරුද්ධව කරුණු කියන අය නවනවා ශාසනේට. දැන් මේ සෝණදණ්ඩ කිව්වෙ. අර පන්සීයම ගියානෙ බුදුරජාණන් වහන්සේ බැහැදකින්න. ඉතින් මේ දේශනාව ඉතාමත් දීර්ඝයි. ඊටපස්සෙ සෝණදණ්ඩ බමුණා ගිහිල්ලා බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහලා පැහැදිලා ගෙදර දානයට වඩම්මලා දිවිහිමියෙන් තෙරුවන් සරණ යනවා. සෝණදණ්ඩ බ්‍රාහ්මණයා චම්පා නුවර බුදුරජාණන් වහන්සේ සරණ ගිය ශ්‍රාවකයෙක් විදියට ප්‍රසිද්ධ වුනා. ඉතාමත් සුන්දර දේශනාවක් දීඝ නිකායේ තියෙන්නෙ. ඉතින් ඒ බුදුගුණ කඳ ඉස්මතු කරන්නයි අපිට උවමනාව තිබ්බෙ. අනේක වූ දෙවියන් බඹුන් සහිත ලෝකයේ සියලු දෙනාගෙන් ප්‍රශංසා මුඛයෙන් බුදුගුණ වර්ණනා අසන, තුන්ලෝකයෙන් වර්ණනා අතික්‍රාන්ත වූ, අප්‍රමාණ ගුණ ඇති, අපේ බුදුරජාණන් වහන්සේ දිවිහිමියෙන් සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. මේ උතුම් තිසරණය ඔබගේ ජීවිතය සුවපත් කරත්වා. ඔබව දුකින් එතෙර කරත්වා, ඔබට සදා සැනසිල්ල ලැබේවා.

ඉතින් පින්වත්නි අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ නවසීලන්තය, කැනඩාව සහ සිංගප්පූරුව යන රටවල් වල පදිංචි කල්‍යාණ මිත්‍ර පිරිසක් එකතු වෙලා. ඉතින් මේ දරුවන්ට බොහෝ යහපතක් මේ පින්වතුන්ට අද දවසේ මේ රැස් කරගත්තා වූ අප්‍රමාණ පුණ්‍යස්කන්ධය, මේ රහතන් වහන්සේලාගෙන් සංගායනා වෙච්ච මිහිඳු මහරහතන් වහන්සේ විසින් ලක්දෙරණට රැගෙන ආ සූත්‍ර දේශනා ධර්මස්කන්ධය ඉතින් ඒ ධර්මයේ ආනුභාවයෙන්, අනන්ත ගුණ ඇති බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ වල ආනුභාව බලයෙන් මව්රටටත් සකල ලෝකයාටත් ඔබ සියලු දෙනාටත් සියලු මනුෂ්‍ය වර්ගයාටත් සියලු සෙත ආශිර්වාදය සැලසේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙලා දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වෙත්වා. සියලු දෙවියෝ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක දරුවෝ ආරක්ෂා කරත්වා. ඒ වගේම ඔබ නමින් මියපරලොව ගිය සියලු ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී ඥාතීන් පරලොව සැපයට පත්වේවා. ඒ වගේම අනන්ත අප්‍රමාණ බුදුගුණ කඳ අපිට කියලා මේ ශාසනයේ සහසසුන් දායාදය අපිට ලබලා දෙන අපගේ පරම පූජනීය ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා. බුදුරජාණන් වහන්සේ කෙරෙහි අපේ හිතේ ඇතිවුනු පැහැදීම මේ බුදුගුණ කියූ පින් බලයෙන්, ඔබ ධර්මය ඇසූ පින් බලයෙන් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සකල සඟරුවනට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම නවසීලන්තයේ, කැනඩාව, සිංගප්පූරුව ආදී ඒ රටවල් වල ඒ කල්‍යාණමිත්‍ර දරුවන් පිරිසක් එකතු වෙලා මේ පින්කම සිද්ධ කරන්නෙ. ඉතින් ඒ දරුවන් සියලු දෙනාටත්, ඒ පවුල් වල දෙමාපියන්ට, සහෝදර සහෝදරියන්ට, ඥාති හිතමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් වේවා. ඒ වගේම යෙනුල්, ඒ වගේම දහම් නාගොඩවිතාන, ඒ වගේම කවීත්, ජනුත් විනායකගේ ඇතුලු ඒ වගේම ශ්‍රද්ධා විනායකගේ දුව, ඒ වගේම කෙවින් ගමගෙදර, ඒ වගේම ටෙසික සුභසිංහ, ඔනාලි බණ්ඩාර, දිනාලි ඕමෝන් යන දූදරුවන්ට පින් අනුමෝදන් වේවා. ඒ දූවාදරුවන්ට ගෞතම බුද්ධ ශාසනයේ අනන්ත බුදුගුණ බලයෙන්, ශ්‍රී සද්ධර්මයේ ආනුභාවයෙන්, ආර්ය සංඝරත්නයේ ආනුභාවයෙන් ඒ දරුවන් නිදුක් නිරෝගී සුවපත් වේවා. අනාගත ජීවිතය ආරක්ෂා වේවා. සුමගින් සුරැකේවා. ගෞතම සසුනේ ඒ දරුවෝ පිහිට ලබත්වා. ඔබ සියලු දෙනාට මේ

කල ධර්ම දානයේ පින සසර දුකින් නිදහස් වීම පිණිසම උපකාරී වේවා. ඒ වගේම මව්දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන්ට කාගේත් ගුරු භවතුන්ට මේ පින් අනුමෝදන් වේවා. ලක්විරු ගුවන්විදුලියේත්, ශ්‍රද්ධා රූපවාහිනියේත් ධර්ම දේශනා දායකත්ව දරන සියලු දෙනාට, ඒ වගේම කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, පින්සිදු වේවා. අපි කාටත් අනන්ත බුදුගුණ ඇති බුදුරජාණන් වහන්සේගේ බුද්ධානුභාවයෙන්, ධම්මානුභාවයෙන්, සංඝානුභාවයෙන්, මේ ගෞතම බුද්ධ ශාසනයේ ඒකාන්තයෙන් පිළිසරණ සැලසේවා. සත්පුරුෂ ඇසුරම සැළසේවා. නිවනින් සැනසෙන්න මේ පින් හේතුවාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=CqpzxKOSDLU&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=56

සාධු සාධු සාධු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාධු සාධු සාධු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාධු සාධු සාධු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන අද දවසේ ශ්‍රද්ධා රූපවාහිනියෙනුත්, ලක්විරු ගුවන් විදුලියෙනුත් විකාශනය කරවන්නට දායකත්වය දරන්නේ, පින්වත් ප්‍රමෝද් කණිෂ්ක රාජකරුණා මහත්මයා සහ සුභාෂිණී තිලකරත්න මහත්මිය. ඒ වගේම සුනිල් තිලකරත්න මහත්මයා සහ එම මහත්මිය. මහේෂ් සඳරුවන් මහත්මයා සහ තෙස්මා හංසනී මහත්මිය

විසින්. ඉතින් මේ පින්වතුන් විශාල පිනක් තමන්ගේ ජීවිතයට එක්රැස් කරගන්නවා ගෞතම බුදුරජාණන් වහන්සේගේ උතුම් ශ්‍රී සද්ධර්මය දෙව් මිනිසුන් හට යහපත පිණිස මේ ලෝකයේ පැතිරීම පිණිස කරන ධර්ම ප්‍රචාරයට සම්බන්ධ වීම තුළින්, කරන ධර්ම දානය තුළින්. ඒ නිසා ඔබට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතින මහා පිනක් අද දවසේ රැස්වෙනවා කියලා හිතලා සන්තෝෂයට පත්වෙන්න ඕන. ඉතින් පින්වත්නි අපි පසුගිය දවස්වල කතා කලා බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ තම තම නැණ පමණින් එක එක්කෙනා වර්ණනා කරනවා. තමන් සරණ ගිය ශාස්තෘන් වහන්සේට යම් ගුණ වර්ණනාවක් කරනවාද, ඒ යම් හිතේ පැහැදීමක් තියෙනවාද, ඒ වගේම තමන්ගේ ශාස්තෘන් වහන්සේ කෙරෙහි චිත්ත ප්‍රසාදයක් තියෙනවාද, මේක නිවනට මූලික අංගය බවට පත්වෙනවා. මූලික කාරණයක් බවට පත්වෙනවා. ඉතින් සාරිපුත්ත මහරහතන් වහන්සේ එසේ වදාළා. ඉතින් අපි අද කතා කරනවා බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ ගැන, රහතන් වහන්සේලා කොහොමද පැහැදිලා බුදුගුණ කිව්වෙ කියලා. එතකොට ඒකට අපි ගමු, අපි මීට කලිනුත් මතක් කලා මේ බුද්ධ ශාසනේ වැඩිපුරම බුදුගුණ කියන්න දක්ෂ වුනේ සාරිපුත්ත මහරහතන් වහන්සේ. ප්‍රඥාවෙන් අග්‍ර සාරිපුත්ත මහරහතන් වහන්සේ තමයි බුදුරජාණන් වහන්සේගේ වැඩිමනක්ම බුදුගුණ කියලා තියෙන්නෙ. සාරිපුත්ත මහරහතන් වහන්සේ භාවනා සුවයෙන් වැඩ ඉන්නකොට තථාගතයන් වහන්සේගේ අනේක ගුණ කඳ සිහියට නැගුනා. සිහියට නැගෙද්දි සාරිපුත්තයන් වහන්සේ කල්පනා කලා ඒ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ හැර මේ ලෝකයේ ඊට වැඩි අවබෝධයක් තියෙන කෙනෙක් අතීතයේ වත් වර්තමානයේ වත් අනාගතයේවත් පහළ වෙන්නෙ නම් නෑ. මේ ලෝකයේ වැඩිම අවබෝධයක් තියෙන, ඉහළම අවබෝධයක් තියෙන උත්තමයාට තමයි සම්මා සම්බුදු රජාණන් වහන්සේ කියලා කියන්නේ කියලා සාරිපුත්තයන් වහන්සේට කල්පනා වුනා. ඉතින් ඒක හිතනකොට, තම තම නැණපමණින්නෙ පින්වතුනි මේ බුදුගුණ හිතෙන්නෙ. සාගරේ ගැඹුර මනින්න යද්දි එක එක්කෙනා තමන් අතේ තියෙන ලණුව හෝ රිටට අනුව තමයි මනින්නෙ. එක්කෙනෙක්ට පුළුවන්නෙ බඹයක් නම්, බඹයක්. ඊළඟට එක්කෙනා බඹ දහයක් නම් බඹ දහයක්. ඉතින් කෙනෙක් නැවකට ගිහිල්ලා යොදුන් කිලෝමීටර් ගණන් දිග ලණුවක් දානවානම් සාගරය ඇතුලට, එතකොට එයාට සාගරේ ගැඹුර තමන්ගේ අතේ තියෙන ලණුව අනුව තමයි හිතාගන්න පුළුවන්නෙ, මිම්ම අනුව. ඒ නිසා තම තමන්ගේ ඥාණය නැමැති

මිම්මට අනුව තමයි බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ වල ගැඹුර තේරෙන්නෙ. ඉතින් තුන්ලෝකයේම බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ පින්වතුනි තුන්ලෝකයේම කාටවත් එහෙම නිමාණය කරන්න පුලුවන් එහෙම ස්වභාවයක් නෑ. ප්‍රමාණය කරන්න පුලුවන් ස්වභාවයක් නෑ. නමුත් යම්තාක් බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ ගැඹුරටම කතා කලා නම් ඒ කතා කලේ සාරිපුත්ත මහරහතන් වහන්සේ. ඉතින් සාරිපුත්ත මහරහතන් වහන්සේ මහත් වූ දහම් ප්‍රීතියට පත්වෙලා භාග්‍යවතුන් වහන්සේ බැහැදකින්න වඩිනවා දවසක්. මේ වෙනකොට බුදුරජාණන් වහන්සේගේ වයස අවුරුදු අසූවයි. සාරිපුත්ත මහරහතන් වහන්සේටත් වයස අවුරුදු අසූවයි. ඉතින් ඒ කාලේ බුදුරජාණන් වහන්සේ වැඩ හිටියේ රජගහනුවර නාලන්දාවේ පාවාරිකා අඹ වනයේ. සාරිපුත්ත මහරහතන් වහන්සේ බුදුරජාණන් වහන්සේ වෙත වැඩලා, භාග්‍යවතුන් වහන්සේට වන්දනා කරලා මෙහෙම කියා හිටිනවා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ කෙරෙහි මට මේ වාගේ පැහැදීමක් තියෙනවා. මොකක්ද ඒ පැහැදීම, ඒ තමයි භාග්‍යවතුන් වහන්සේගේ යම් මේ සම්බුද්ධත්වයක් ඇත්ද, සම්මා සම්බෝධියක්, එයට වැඩි වූ අවබෝධයක් ඇති අන්‍ය ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් අතීතයේ ද හිටියේ නෑ. වර්තමානයේ ද නෑ. අනාගතයේ පහළ වන්නේ ද නැත කියලා මට භාග්‍යවතුන් වහන්සේ ගැන පැහැදීමක් ඇති වුනා. දැන් අපිටත් ධර්මය ගැන කියවාගෙන, බුදුගුණ සිහි කරගෙන යනකොට හිතෙන්නෙ මෙහෙම කෙනෙක් ආයෙ තුන් ලෝකෙම නෑ බුදුකෙනෙක් හැර කියලා. එතකොට අර සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා බුදුරජාණන් වහන්සේ, සම්බෝධිය ලැබූ බුදුරජාණන් වහන්සේ හැර අතීතයේ වත් වර්තමානයේවත් අනාගතයේවත් තවත් උතුම් කෙනෙක් නම් නෑ. එවැනි වූ ඥාණයක් තියෙන කෙනෙක් නම් නෑ. ඊට පස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සාරිපුත්ත සීහනාදං නදී. සාරිපුත්ත සිංහනාදයක්නෙ කලේ. ඒකාන්ත කරලා කීවනේ බුදු කෙනෙක් භාග්‍යවතුන් වහන්සේගේ සම්බෝධිය මෙවැනි වූ අවබෝධයක් තියෙන, ඊට වැඩි අවබෝධයක් තියෙන ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ අතීතයේ වත් අනාගතයේවත්, වර්තමානයේවත් නෑ කියලා. කිම සාරිපුත්ත, සාරිපුත්ත අතීතයේ පහළ වුනා නම් යම්තාක් සම්මා සම්බුදුරජාණන් වහන්සේලා, ඒ සම්බුදුරජාණන් වහන්සේලාගේ හිත බලලද ඔය සාරිපුත්ත කිව්වේ, අනේ නෑ ස්වාමීනී. එතකොට අනාගතයේ පහළ වෙන සම්මා සම්බුදුවරුන්ගේ හිත බලලද කිව්වේ, අනේ නෑ ස්වාමීනී. එහෙනම් වර්තමානයේ මම තථාගතයන්

වහන්සේ ලෙස වැඩ සිටිනවා. වර්තමානයේ තථාගතයන් වහන්සේගේ හිත බලලද ඔය කිව්වේ, තමන්ගේ හිතින් දැනගෙන මෙවැනි අවබෝධයක් තියෙනවා කියලා. අනේ නෑ ස්වාමීනී, එහෙම නම් සාරිපුත්ත අතීත, අනාගත, වර්තමාන සම්මා සම්බුදුරජාණන් වහනසේලාගේ හිත බලන්න චේතෝපරිය ඥාණයක් ඔබට නැත්නම් කොහොමද සාරිපුත්ත ඒකාන්තයෙන්ම කියන්නෙ අතීතයේවත්, වර්තමානයේවත්, අනාගතයේවත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට වැඩිමනක් අවබෝධයක් තියෙන ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ ලෝකයේ පහළ වෙන් නැත කියලා. ස්වාමීනී, අතීත, අනාගත, වර්තමාන සම්මා සම්බුදුරජාණන් වහන්සේලාගේ සිත බලන්න චේතෝපරිය ඥාණයක් මට නෑ. ඒ වුනාට ස්වාමීනී, මට ධර්මානුකූලව මට නිගමනයකට පත්වෙන්න පුලුවන්, ධර්මානුකූලව. ඒක ස්වාමීනී මේ වගෙයි. ඔන්න රජ කෙනෙකුට අයිති නගරයක් තියෙනවා. ඒ නගරයේ ප්‍රාකාරයක් තියෙනවා. ඒ නගරයටම එකම දොරටුවයි තියෙන්නෙ. ඉතින් නුවණැති දොරටු පාලකයෙක් ඉන්නවා. ඒ දොරටුපාලකයා නගරයේ ප්‍රාකාරය වටා ඇවිදිනවා, යටත් පිරිසෙයින් බළල් පැටියෙකුටවත් රිංගගන්න පුලුවන් සිදුරක් ප්‍රාකාරයේ නෑ. මනාව බැඳලා තියෙන ප්‍රාකාරයක්. එතකොට ඒ කෙනාට හිතෙනවා මේ ඕලාරික යම්කිසි ප්‍රාණියෙක් ඉන්නවා නම්, අමනුස්සයෙක් නෙවෙයි, ඕලාරික යම් ප්‍රාණියෙක් ඉන්නවා නම්, යටත් පිරිසෙයින් බළල් පැටියෙක් හෝ වේවා, ඒ අය නගරයේ ඇතුලට යනවා නම් හෝ එළියට එනවා නම් හෝ මේ දොරටුවෙන්ම තමයි යන්න තියෙන්නෙ, එන්න තියෙන්නෙ. හේතුව මේ නගරයේ එච්චරම වටේ කව(ර්) වෙලා තියෙන්නෙ, වටවෙලා තියෙන්නෙ. ඉතින් ඒ නිසා, සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා එතකොට ඒ නුවණැති දොරටුපාලකයාට හිතක් එනවා යම්කිසි ගොරෝසු ප්‍රාණීහු මේ නගරයට පිවිසෙත්ද, නික්මෙත් ද ඒ සියල්ලෝම මේ දොරටුවෙන් පමණක්ම පිවිසෙති, නික්මෙති කියලා. ඉතින් ඒ නිසා ස්වාමීනී මා විසින් මේ ධර්ම න්‍යායට අනුව නිගමනයකට පැමිණෙන්න පුළුවන් බව දන්නවා, ඒ තමයි යං ඒ අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් අතීතයේ වැඩ හිටියාද, ඒ සියලු භාග්‍යවතුන් වහන්සේලා සිතට උපක්ලේශ වූ ප්‍රඥාව දුර්වල කරන පංච නීවරණ ප්‍රහාණය කොට සතර සතිපට්ඨානය තුළ මැනැවින් පිහිටුවා ගත් සිතින් යුතුව සප්ත බොජ්ඣංගයන් ඒ වූ සැටියෙන්ම දියුණු කොට අනුත්තර වූ සම්මා සම්බෝධිය අවබෝධ කළ සේක කියලා මට ධර්මානුකූලව හිතන්න පුලුවන්. අතීතයේ යම්තාක් බුදුවරු පහළ වුනා නම්, ඒ බුදුවරු පහළ වුනේ හිතට උපක්ලේශව

හිත වහන, හිත අඳුරට ගන්න පඤ්ච නීවරණ බැහැර කරලා. මොනවද පඤ්ච නීවරණ, කාමච්ඡන්ද, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්ච කුක්කුච්ච, විචිකිච්ඡා. එතකොට මේවා තමයි හිතේ ප්‍රඥාය දුබ්බලීකරණා, චේතසෝ උපක්කිලේසා, හිතට උපක්ලේශ ප්‍රඥාව දුර්වල කරනවා. ආවරණා නීවරණා, වහනවා සත්‍යාවබෝධය ඇත්ත සම්පූර්ණයෙන් වහනවා. ඊළඟට නිවන වහලා දානවා. මේ පඤ්ච නීවරණ වලින්. මොකක්ද ඒ පඤ්ච නීවරණ? කාමච්ඡන්ද, කාමය කෙරෙහි කැමැත්ත ඇතිවෙනවා. කාම අරමුණුම හිතට නැගෙනවා. ව්‍යාපාද, හිතට ගැටෙන අරමුණු එනවා. ඊටපස්සෙ ථීනමිද්ධ, ඉතා අලසයි. කුසීතයි, නිදිමතට බරයි. ඊටපස්සෙ  උද්ධච්ච කුක්කුච්ච, හිත පසුතැවිල්ලට පත්වෙනවා, පීඩාවට පත්වෙන අරමුණු එනවා. පීඩාවට පත්වෙනවා, හිත විසිරෙනවා. ඊළඟට විචිකිච්ඡා, සැකය උපදිනවා. විශ්වාසයක් නෑ ඒක ගැන. එතකොට මේ කරුණු පහ තමයි, බුදුවරු ප්‍රහාණය කරනවා. ඉස්සෙල්ලාම ලෝකයේ, ප්‍රහාණය කරලා ඊළඟට උපද්දවනවා සතර සතිපට්ඨාන. කායානුපස්සනාවෙ, හිත හොඳට පිහිටනවා. වේදනානුපස්සනාවෙ හිත පිහිටනවා. ඊළඟට චිත්තානුපස්සනාවෙ හිත පිහිටනවා. ධම්මානුපස්සනාවෙ හිත පිහිටනවා. මේ සතර සතිපට්ඨානෙ හිත පිහිටුවාගෙන බොජ්ඣංග ධර්ම හතක් වඩනවා. ඒ තමයි ඒ සතර සතිපට්ඨානය තුළ හොඳට සිහිය පවත්වනවා. ඒක සති සම්බොජ්ඣංගය. සම්බොජ්ඣංග කියන්නෙ බෝධි අංගයන්.  නිවනට උපකාරී වෙන විදියට සිහිය වඩනවා, සතර සතිපට්ඨානය තුළ, සති සම්බොජ්ඣංගය. ඊළඟට ඒ සිහිය තුළ විමසනවා, අනිත්‍ය වශයෙන්, දුක් වශයෙන්, අනාත්ම වශයෙන්. ආශ්වාදය, ආදීනවය, නිස්සරණ හොඳට විමසනවා. එතකොට ඒක ධම්මවිචය සම්බොජ්ඣංගය. ඒක හැමවෙලාවෙම ඒ විමසීමේ තියෙන්නෙ නිවනට උපකාරී විදියට. ඊළඟට මේ විදියට විමසනකොට හොඳට ප්‍රීතිය උපදිනවා, එතකොට ප්‍රීති සම්බොජ්ඣංගය. එහි ප්‍රීතිය තියෙන්නෙ නිවනට උපකාරී විදියට. ඊළඟට එයා තුළ මේ තුළින් හොඳට වීර්යය වැඩෙනවා. එතකොට ඒ වීර්යය තියෙන්නෙ නිවනට උපකාරී විදියට. ඒ විරිය සම්බොජ්ඣංගය. ඊළඟට මේ විදියට කයත් සිතත් හොඳට සැහැල්ලු වෙනවා. ඒ සැහැල්ලුව තුළින් හොඳට සතර සතිපට්ඨානය වඩනවා. ඒක නිවනට උපකාරී විදියට තියන්නෙ. ඒකට කියනවා පස්සද්ධි සම්බොජ්ඣංගය. ඊළඟට හිත හොඳට සමාධිමත් කරනවා, පළවෙනි ධ්‍යානය, දෙවෙනි ධ්‍යානය, තුන්වෙනි ධ්‍යානය, හතරවෙනි ධ්‍යානය තුළ. එතකොට ඒ ධ්‍යාන හතරම තියෙන්නෙ නිවනට උපකාරී විදියට. ඒක සමාධි සම්බොජ්ඣංගය. ඒකයි

පින්වතුනි මේ බුද්ධ ශාසනයෙන් පිට සමාධිය වඩන එක, මාර්ග අංගයක් නොවෙන්නේ ඒ නිසා. මොකද ඒ සමාධිය වැඩෙන්නෙ නිවනට ඕන විදියට නෙවෙයි. නිවනට අනුකූලව, නිවන අරමුණු කරගෙන නිවනට බර වෙලා සමාධිය වැඩෙනකොට තමයි ඒක සමාධි සම්බොජ්ඣංගය බවට පත්වෙන්නෙ. ඊළඟට තියෙනවා උපෙක්ඛා සම්බොජ්ඣංගය. උපේක්ෂාව හිත තුළ පවතිනවා, ඇලීමකුත් නැතිව ගැටීමකුත් නැතිව. ඒ වගේම සැප දුක් කෙරෙහි බැස ගන්නේ නැතිව. ඊළඟට මෙතන උපෙක්ඛා සම්බොජ්ඣංගය කියන්නෙ උපෙක්ඛා වේදනාව නෙවෙයි. අදුක්ඛම සුඛ නෙවෙයි උපෙක්ෂාව කියන්නෙ. ඒ කියන්නෙ මේ ලෝකෙ ආදීනවය, ආශ්වාදය, නිස්සරණය අවබෝධය තුළින් ඇතිවෙන මධ්‍යස්ථ බව. ඒක තමයි උපෙක්ෂා සම්බොජ්ඣංගය කියලා කියන්නෙ. උපෙක්ෂා වේදනාව නෙවෙයි. නැත්නම් අපි සාමාන්‍යයෙන් උපෙක්ඛා වේදනාව කියලා කිව්වට ඒකට හරි වචනය උපෙක්ඛා වේදනාව නෙවෙයි. අදුක්ඛමසුඛ වේදනාව. සැපත් නැති දුකත් නැති වේදනාව කියලා කියන්නෙ. අපි කියන්නෙ සැප දුක් උපෙක්ෂා කියලානෙ කියන්නෙ. ඒක සාමාන්‍යයෙන් අපි ව්‍යවහාරයට ගත්ත එකක්. අදුක්ඛමසුඛ වේදනාව. නමුත් උපෙක්ඛා සම්බොජ්ඣංගය බවට පත්වෙන්නෙ යථාර්තය අවබෝධය තුළින් ලෝකය ගැන ඇතිවෙන මධ්‍යස්ථ බව තමයි උපෙක්ඛා සම්බොජ්ඣංගය. එතකොට පංච නීවරණ දුරු කරලා සතර සතිපට්ඨානයේ හිත පිහිටුවාගෙන, බොජ්ඣංග ධර්ම හත මනාව වැඩුවා කියලා යමක් ඇත්ද, එය තුළින් තමයි ලොව්තුරා සම්මා සම්බුදු කෙනෙක් අතීතයේ පහළ වුනොත් පහළ වෙන්නෙ. අනාගතයේ පහළ වෙනවා නම් පහළ වෙන්නෙත් එහෙම තමයි. වර්තමානයේ පහළ වෙන්නේත් මෙහෙමයි. අනේ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මට ආන්න ඕවා කල්පනා කරනකොට මට පැහැදිලිව හොඳට ධර්මානුකූලව වැටහෙනවා අතීතයේවත් වර්තමානයේවත් අනාගතයේවත් බුදු කෙනෙකුට වඩා ඥාණයක්, අවබෝධයක් තියෙන කෙනෙක් නම් කොහේවත් නෑ කියලා. ඉතින් ස්වාමීනී මට තව කාරණාවක් තියෙනවා. ඒ තමයි ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මම ධර්ම ශ්‍රවණය කිරීම පිණිස භාග්‍යවතුන් වහන්සේ ළඟට විටින් විට පැමිණෙනවා. භාග්‍යවතුන් වහන්සේ මට කුසල අකුසල ධර්මයෝ කියලා දෙනවා. ප්‍රණීත ප්‍රණීත දහම් පරියායන් කියලා දෙනවා. ඉතින් ස්වාමීනී, යම් යම් අයුරකින් භාග්‍යවතුන් වහන්සේ මට කියලා දුන්නද, ඊට අනුව මමත් ඒ ධර්මයේ හැසිරුණා. හැසිරෙනකොට භාග්‍යවතුන් වහන්සේ මට කියලා දුන්නා වූ යම් යම් ධර්මයන් මම ඒ විදියටම ඒවා අවබෝධ කලා. ඒ ධර්මයන්ට පැමිණ

වාසය කලා. ඒ කියන්නෙ සාරිපුත්‍රයන් වහන්සේට භාග්‍යවතුන් වහන්සේ සමාධිය ගැන කියලා දුන්නොත් ඒක සාරිපුත්තයන් වහන්සේ සමාධිය උපද්දවනවා. භාග්‍යවතුන් වහන්සේ මාර්ග ඵල ගැන කියලා දුන්නා, සාරිපුත්තයන් වහන්සේ මාර්ග ඵල අවබෝධයට ආවා. ඉතින් භාග්‍යවතුන් වහන්සේ දේශනා කරපු ධර්මය මට අවබෝධ වුනාට පස්සෙ මටම අවබෝධයක් ආවා, පැහැදීමක් ආවා බුදුරජාණන් වහන්සේ ගැන, ඒකාන්තයෙන්ම නම් සම්මා සම්බුදුරජාණන් වහන්සේ මේ සියල්ල අවබෝධ කලා. සම්මා සම්බුද්ධයි කියලා. මට ඒකාන්තයෙන්ම මගේ හිත තුළින්ම පැහැදීමක් ආවා, මේ ධර්මය නම් මනාකොට දේශනා කරලා තියෙන්නෙ. ධර්මය ස්වාක්ඛාතයි කියලා. ඊළඟට මේ ධර්මය පිළිපදින ශ්‍රාවක සංඝයා සුපටිපන්නයි. මනාව මේ දහමේ හැසිරෙන මනාව වැඩපිළිවෙලකට ආපු පිරිසක් කියලා මටම මා තුලින් පැහැදීම ඇතිවුනා. ඉතින් ස්වාමීනී ඔය විදියට තමයි මට ධර්මානුකූලව පැහැදීම එන්නේ තුණුරුවන් ගැන. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, කුසල ධර්මයන් පිළිබඳව යම් යම් අයුරින් දේශනා කලා භාග්‍යවතුන් වහන්සේ. ඒක අනුත්තරීය ධර්මයක්. ඒක ශ්‍රේෂ්ටයි. මේ කුසල් දහම් ගැන බුදුරජාණන් වහන්සේ දේශනා කලා කියන එක ඒක තුන් ලෝකෙම ශ්‍රේෂ්ට දෙයක්. ඉතින් ස්වාමීනි එහිලා මේ කුසල ධර්මයෝ තියෙනවා. ඒ තමයි සතර සතිපට්ඨානය, ඒ තමයි කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, ධම්මානුපස්සනා. සතර සම්‍යප්‍රධාන වීර්යය, ඒ කියන්නෙ නූපන් අකුසල් නූපදීම පිණිස කරන වීර්යය, උපන් අකුසල් ප්‍රහාණය කිරීම පිණිස කරන වීර්යය, නූපන් කුසල් ඉපදවීම පිණිස කරන වීර්යය, උපන් කුසල් වඩා වර්ධනය වීම පිණිස කරන වීර්යය. මේ අකුසල් ප්‍රහාණය කරන්න, කුසල් උපද්දවන්න මේ කරන වීර්යය හතර ආකාරයකින් තියෙනවා මේ විදියට. ඒකට කියනවා සතර සම්‍යප්‍රධාන වීර්යය කියලා. දැන් සාමාන්‍යයෙන් ඔබගේ හිතට අකුසලයක් ආවොත් රාගයක් හරි, ද්වේෂයක් හරි, නිදිමතක් හරි මොකාක් හරි අකුසලයක් ආවොත් ඒක ප්‍රහාණය කරන්න යම් විදියකට ඔබ මහන්සි වෙනවාද, ඒක උපන් අකුසල් ප්‍රහාණය කිරීමක්. මේ නිවන් මාර්ගයේ හැසිරෙද්දි. ඊළඟට දැන් අපි කියමුකෝ ඔන්න ෆෝන් එකක් පාවිච්චි කරනවා. එතකොට ඔබට හිතනෙවා නම් මං මේ ෆෝන් එක ගත්තට පස්සේ මගේ කාලය නාස්ති වෙනවා, ඊළඟට තව මොනවාහරි හිතෙනවා නම්, ඊටපස්සෙ ඔබ කල්පනා කරනවා ඒ නිසා මං මේ ෆෝන් එක අද පාවිච්චි කරන්නෙ නෑ. දැන් බලන්න නූපන් අකුසල් - ෆෝන් එක පාවිච්චි කිරීම නිසා උපදින අකුසල් ටික පාවිච්චි

කලොත්නෙ උපදින්නෙ. එතකොට ඒක පාවිච්චි කරන්නැතිව ඉන්නවා. එතකොට නූපන් අකුසල් නූපදවීම පිණිස කරපු වීර්යයක් ගණයට වැටෙනවා. එතකොට අපි දන්නවා නම් අහවල් පිරිස ළඟට අපි ගියාට පස්සෙ ඔතනට ගිහිල්ලා දෙතිස් කතාවට අහුවෙලා නිකාං අපි අකුසල් කරගන්නවා කියලා, ඒ පැත්තට යන්නෑ එයා. අන්න නූපන් අකුසල් නූපදවීම පිණිස කරවපු වීර්යයක් ඒක. ඊළඟට පිරිසක් අතර ඉද්දින් අනවශ්‍ය කතා යනකොට මේ පොඩි වැඩක් තියෙනවා කියලා එයා එතනින් මාරුවෙලා යනවා. ඒක ඇත්තටම එයා උපන් අකුසලයක් ප්‍රහාණය කරපු ගණයට වැටෙන්නෙ. ඉතින් ඒ නිසා හිතේ තියෙන අකුසල් දුරු කර කර ඔය ඕලාරික වශයෙන් මම කිව්වෙ. එතකොට භාවනාව තුළ ඒ ඒ මොහොතේ උපදින අකුසල් ප්‍රහාණය කර කර, ඒ ඒ මොහොතේ උපදින කුසල් වඩා වර්ධනය කර කර මාර්ගය වඩන්න ඕන. සතර සම්‍යප්‍රධාන වීර්යය. ඊටපස්සෙ තියෙනවා සතර ඍද්ධිපාද. පින්වතුනේ ඡන්ද, චිත්ත, විරිය, වීමංසා කියලා ඍද්ධිපාද හතරක් තියෙනවා. ඒක සාමාන්‍යයෙන් ගැනෙන්නෙ ඡන්දපධාන සමාධි සංකාර සමන්නාගත ඍද්ධිපාදං භාවේති කියලා තියෙන්නෙ, ඍද්ධිපාදං භාවෙති. එතකොට ඡන්දය කියලා කියන්නෙ එයා තුළ ලොකු කැමැත්තක් තියෙනවා, මේ නිවන පිණිස මේ මාර්ගය වැඩීම පිණිස, ඒ වගේම යම්කිසි භාවනා අරමුණක් පිණිස, හිතේ කැමැත්ත තියෙනවා. මේක වඩන එකට. එතකොට ඒ කැමැත්ත මුල් කරගෙන අර හතර ආකාරයකින් අකුසල් ප්‍රහාණය කරනවා, කුසල් උපද්දවනවා. හතර ආකාරයකින්. ඒක තමයි පධාන සංකාර. එතකොට ඒක ඍද්ධියට පාද මූලික වීම පිණිස තමයි මේවා වැඩෙන්නෙ. එතකොට මේ බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ වලට මූලික වන විදියට. එතකොට ඔන්න ඔය කරුණු ටික මුල් කරගත්තට පස්සෙ ඡන්ද පධාන සංකාර සමන්නාගත ඍද්ධිපාදය කියලා කියනවා. එතකොට මේවා දිවාරාත්‍රී විදියට වඩන හැටි, ඒ ඒ මොහොතට හිතට එන ස්වභාවයන් අනුව බොජ්ඣංග අනුව ඍද්ධිපාද කොහොමද වඩන්නෙ, මේ විදියට ඊළඟට නීවරණ අනුව මේවා කොහොමද වඩන්නෙ කියලා වෙනම විග්‍රහයන් තියෙනවා පින්වත්නි. එතකොට කොහොමහරි තේරුම් ගන්න තියෙන්නෙ ඡන්දය මුල් කරගෙන මේ නිවන් මාර්ගය, කැමැත්ත මුල් කරගෙන නිවන් මාර්ගය වඩනවා. ඒ ඡන්ද ඍද්ධිපාදය. චිත්ත ඍද්ධිපාදය කියලා කියන්නෙ, අධිෂ්ටානය. හිතේ ලොකු අධිෂ්ටානයකින් මෙයා කටයුතු කරනවා. නොපසුබහින මනා අධිෂ්ටානයක් තියෙනවා හිතේ. එතකොට ඒ අධිෂ්ටානය මුල් වෙලා මාර්ගය වඩනවා. එතකොට ඒකට කියනවා චිත්ත පධාන සමාධි සංකාර සමන්නාගත

ඍද්ධිපාදය. ඊළඟට වීර්යය ඍද්ධිපාදය, ඊළඟට වීමංසා. වීමංසා කියන්නෙ හොඳට නුවණින් විමසනවා. එතකොට අනිවාර්යයෙන් මේ බුද්ධ ශාසනයේ මාර්ගය වැඩෙන්න නම් නිවන් මාර්ගය ඡන්ද, චිත්ත, වීර්ය, වීමංසා කියන ඍද්ධිපාද හතර අනිවාර්යයෙන් වැඩෙන්න ඕන. එයා මේ බුද්ධ ශාසනයේ ඇදගෙන යන්නේම මේ කාරණා හතරෙන්. එක්කො කැමැත්ත, එක්කො අධිෂ්ටානය, එක්කො වීර්යය, එක්කො නුවණින් විමසීම. මේ කාරණා හතරින්ම තමයි ශාසනය තුළට එයාව ඇදගෙන යන්නෙ. ඒකට කියනවා ඍද්ධිපාද හතර කියලා. ඊළඟට තියෙනවා පසක් වූ ඉන්ද්‍රිය ධර්මයන්. බුදුරජාණන් වහන්සේ මේවා දේශනා කලේ. ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥා. එතකොට ශ්‍රද්ධාව, වීර්යය, සතිය, සමාධිය, ප්‍රඥාව. එතකොට මේ ඉන්ද්‍රිය ධර්මයෝ. කියන්නෙ මෙහෙමයි පින්වත්නි, ඉන්ද්‍රිය ධර්මයෝ කියලා කියන්නෙ දැන් අර අපිට දැන් රූපයක් එනකොට ඒ රූපය බැලීම පිණිස ඇස නැමැති ඉන්ද්‍රිය ක්‍රියාත්මක වෙනවානෙ. එතකොට රූපය ඉදිරියේ ඇස ක්‍රියාත්මක වෙනවා. ශබ්දය ඉදිරියේ කණ ඉන්ද්‍රියක් විදියට ක්‍රියාත්මක වෙනවා. ගඳ සුවඳ ඉදිරියේ නාසය ක්‍රියාත්මක වෙනවා ඉන්ද්‍රියක් විදියට. ඒ වගේ තමයි විශ්වාස කළ යුතු, සැබෑ ශ්‍රද්ධාවක් ඇතිවිය යුතු කරුණක් ඉදිරියේ ඉන්ද්‍රිය වැඩ කරනවා එයාගෙ. ශ්‍රද්ධා ඉන්ද්‍රිය. සිහිය පිහිටිය යුතු කරුණ ඉදිරියේ වැඩ කරනවා ඒ සිහිය. ඊළඟය ශ්‍රද්ධා, විරිය, සති.. වීර්යය වැඩ කරනවා, වීර්යය කළ යුතු තැනදි තත්පරේට වීර්යය එනවා එයාට. ඊළඟට සිත එකඟ විය යුතු තැන සිත එකඟ කරගන්න පුලුවන්. ඊළඟට නුවණින් විමසිය යුතු තැන නිවන පිහිටනවා. මේවා ඉන්ද්‍රියන් විදියට ක්‍රියාත්මක වෙනවා. ඒවත් එක්ක බද්ධ වෙලා තියෙන්නෙ. නිවන් මාර්ගයේ ගමන් කරන කෙනාට ඇස, කණ, නාසය, දිව, කය, මනස බද්ධ වෙලා තියෙනවා වගේ මේ මනුෂ්‍යයෙකුගේ ශරීරයට, මනුෂ්‍ය සත්ත්වයෙකුට අර නිවන් මාර්ගයේ යන කෙනාට ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥා කියන ඉන්ද්‍රිය බද්ධ වෙලා තියෙන්නෙ. එතකොට දැන් අපි පින්වත්නි ලෝකයත් එක්ක සම්බන්ධ වෙන්නෙ ඇස, කණ, නාසය, දිව, ශරීරය, මනස හරහානෙ. එතකොට නිවන් මාර්ගයේ ගමන් කරන කෙනා මේ මාර්ග ප්‍රතිපදාවත් එක්ක, මේ ධර්මයත් එක්ක සම්බන්ධ වෙන්නෙ ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥාත් එක්ක. ඒ කියන්නෙ එයාට හැම වෙලාවෙම එයා මාර්ග ප්‍රතිපදාව, එක්කො ශ්‍රද්ධාවට ගෝචර කරගන්නවා, එක්කො වීර්යයට ගෝචර කරගන්නවා, එක්කො සිහියට ගෝචර කරගන්නවා, එක්කො සමාධියට ගෝචර කරගන්නවා, එක්කො ප්‍රඥාවට ගෝචර කරගන්නවා. ඒ විදියට පංච ඉන්ද්‍රිය

ධර්මයෝ වඩනවා. ඉතින් මේවා බුදුරජාණන් වහන්සේ දේශනා කළේ. ඊළඟට බල ධර්මයෝ, ඒ ඉන්ද්‍රිය ධර්මයෝම තමයි බලධර්මයෝ බවට පත්වෙන්නෙ. ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥා කියන. මොකද ඉන්ද්‍රියන් විසින් කරගත්තේ ගෝචර කරගත්තානෙ. එතකොට බලධර්මයෝ විදියට කරගත්තෙ, බලයක් දුන්නා. ඒ කියන්නෙ එයාට නිවන් මාර්ගය ඉදිරියට දියුණු කරගෙන යන්නෙ ශ්‍රද්ධාව සෙන්පතියෙක් විදියට, බලයක් විදියට කියාත්මක වෙනවා. බලවේගයක් විදියට. වීර්ය, සති, සමාධිය, ප්‍රඥාව. එතකොට මෙයාව ඉස්සරහට තල්ලු කරගෙන යනවා. නිවන් මාර්ගයේ කෙළවරක් දක්වාම ගෙනියනවා මෙයා. අන්න ඒකටයි ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥා කියන කාරණා පහ ක්‍රියාත්මක වෙනකොට ඒකට කියනවා බල ධර්ම කියලා. ඒවට කියනවා බලධර්ම. ඊළඟට තියෙනවා සතක් වූ බොජ්ඣංග ධර්ම. බොජ්ඣංග ධර්ම ගැන කිව්වානෙ. මේ නිවන් මාර්ගයේ ගමන් කරනකොට නිවනට නැඹුරු වන විදියට සතර සතිපට්ඨානයේ හිත පිහිටනවා. ඒක සති සම්බොජ්ඣංගය. එතකොට නිවනට නැඹුරු වන විදියටම මේ ධර්මය විමසනවා. පඤ්චුපාදානස්කන්ධ, ආයතන, පටිච්ච සමුප්පාද වශයෙන්, අනිත්‍ය, දුක්ඛ අනාත්ම වශයෙන් එහෙම නැත්නම් ගඩුවක් විදියට, රෝගයක් විදියට, උලක් විදියට අනුන්ගේ දෙයක් විදියට තියෙන්නෙ කාරකතෝ කලෝකතෝ, සිදී බිදී යන දෙයක් විදියට. විමසනවා. ආශ්වාදය, ආදීනවය, නිස්සරණ එතකොට ඒවා අයිති වෙන්නෙ ධම්මවිචය සම්බොජ්ඣංගයට. සති සම්බොජ්ඣංගය, ධම්මවිචය සම්බොජ්ඣංගය, පීති සම්බොජ්ඣංගය එතකොට ඒ නිවන තුළ ඇතිවන ප්‍රීතිය, එයා මුලාවීම පිණිස නෙවෙයි වඩන්නෙ. ඒ ප්‍රීතියත් නිවනට උපකාරී වෙන විදියට. මාර්ග අංග වැඩීම පිණිස උපකාරී වෙන විදියටයි ප්‍රීතිය වඩන්නෙ. ඒකට කියනවා පීති සම්බොජ්ඣංගය. එතකොට පින්වත්නි මේ බෝධි අංග වෙන වෙනම දැන් වඩනවා කියලා එකක් නෙවෙයි තියෙන්නෙ. ඒ කියන්නෙ සතර සතිපට්ඨානය වඩනකොට ඒ තුළ තමයි බෝධි අංගය වැඩෙන්නෙ. ඊටපස්සෙ වීර්යය, පස්සද්ධිය, ඊළඟට සමාධිය, ඊළඟට උපෙක්ඛාව. මේ විදියට සප්ත බොජ්ඣංග ධර්මයෝ ගැන බුදුරජාණන් වහන්සේ කියලා දුන්නා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ කියලා දුන්නා ආර්ය අෂ්ටාංගික මාර්ගය ගැන, සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි. ඉතින් බුදුරජාණන් වහන්සේ ස්වාමීනී, මෙහිලා භික්ෂුව ආස්‍රවයන් ක්ෂය වීමේන අනාස්‍රව වූ චිත්ත විමුක්තියත් ප්‍රඥා විමුක්තියක් මේ ජීවිතයේදීම තම විශිෂ්ට

නුවණින් පසක් කොට එයට පැමිණ වාසය කරයි. මේ සත්තිස් බෝධි පාක්ෂික ධර්ම වඩලා, ඉතින් ස්වාමීනී කුසල ධර්මයන් පිළිබඳව මේ අනුත්තරීය ධර්මයන් මේ සත්තිස් බෝධි පාක්ෂික ධර්මය. එතනින් එහාට නෑ, අනුත්තරීයයි කියන්නෙ එතනින් එහාට නෑ ආපහු. මේ තමයි ලෝකයේ තියෙන ඉහළම කුසල් දහම්. එතකොට එය භාග්‍යවතුන් වහන්සේ මුළුමනින්ම දන්නා සේක. මේ සත්තිස් බෝධි පාක්ෂික ධර්මයන්ගේ සකල දැනුම සකල අවබෝධය, සියලුම අවබෝධය තියෙන්නෙ කාටද, ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේටනෙ. ඉතින් ඒ භාග්‍යවතුන් වහන්සේ ඒ ගැන මුළුමනින්ම දන්නා හෙයින් විශිෂ්ට ඥානයෙන් යුතු හෙයින් එයට වැඩි දෙයක් නම් නෑ, මෙතනින් එහා වෙන කුසල් නම් නෑ. ඉතින් මේ කුසල ධර්මයන් පිළිබඳව භාග්‍යවතුන් වහන්සේගේ අවබෝධයක් ඇත් ද, එයට වඩා දන්නා වූ අන්‍ය ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ කවදාවත් නම් නෑ ස්වාමීනී, මට ඔන්න ඔය පැහැදීම තියෙනවා භාග්‍යවතුන් වහන්සේ ගැන. ඊළඟට තවද ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ ආයතන පැනවීම් පිළිබඳ ධර්මය දේශනා කලා. මේකත් අනුත්තරීය ධර්මයක්. එතනින් එහාටත් විග්‍රහයක් නෑ. බුදුරජාණන් වහන්සේ මේ ආයතන ගැන කරපු විග්‍රහය තරම් විග්‍රහයක් ආයෙත් නෑ. ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ අභ්‍යන්තර ආයතන ගැන කියලා දුන්නා, බාහිර ආයතන ගැන කියලා දුන්නා. ස්වාමීනී ඒ තමයි ඇසත් රූපයත්, කණත් ශබ්දයත්, නාසයත් ගඳ සුවඳත්, දිවත් රසයත්, කයත් පහසත්, මනසත් අරමුණුත්. ස්වාමීනී ආයතන ප්‍රඥප්තිය පිළිබඳව, ආයතන පිළිබඳව මේ පනවලා කරපු දේශනා, ඒ කරපු විග්‍රහයන් අනුත්තරීයයි, එය සර්වප්‍රකාරයෙන්ම බුදුරජාණන් වහන්සේ දන්නවා. බුදුරජාණන් වහන්සේ ආයතන හය ගැන, දැන් බලන්න ඇහැත් රූපයත්, කණත් ශබ්දයත්, නාසයත් ගඳ සුවඳත්, දිවත් රසයත්, කයත් පහසත්, මනසත් අරමුණුත් කියන ඔන්න ඔය ධර්මයෝ නැත්නම් අපිට ලෝකයක් කියලා එකක් තියෙනවාද. ඊටපස්සෙ දුක කියන එක? අනිත්‍යය කියන එක? මේ ඔක්කෝම මේ ආයතන හයත් එක්කනෙ. මේ පටිච්ච සමුප්පාදය ඇතිවෙන්නෙත් මේ ආයතන හය මුල් කරගෙනනෙ. පඤ්චුපාදානස්කන්ධය ඇතිවෙන්නෙත් මේ ආයතන මුල් කරගෙනනෙ. දිරන්නෙ, වයසට යන්නෙ, ලෙඩවෙන්නෙ, ප්‍රියයන්ගෙන් වෙන්වෙනවා කියන්නෙ අප්‍රියයන් හා එක්වෙනවා කියන්නෙ මේ ආයතන හයටනෙ. එතකොට මේ ආයතන හය තුළ තමයි මේ ඔක්කොම දුක තියෙන්නෙ. අපි මේ සංසාරයේ සතර අපායේ යන ඒවා ඔක්කෝම මේ ආයතන හයත් එක්ක තියෙන්නෙ. ඊළඟට කෙළවරක් නැති

සංසාරේ යන එක. නිවන් දකින්නෙ නැති එක, නිවන් දකින එක හෝ ඒ ඔක්කෝම මේ ආයතන හයත් එක්ක තියෙන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ පුදුම විදියට විස්තර කරලා දුන්නා. බුදුරජාණන් වහන්සේ විස්තර කරලා දුන්නා මේ සත්තු හය දෙනෙක් ලණුවක් ගැට ගහලා තියෙනවා. ගැටගහලා තිබ්බට පස්සෙ මුන් හයදෙනාම එක ලණුවක ගැටගහලා තියෙනවා. දැන් කන්න බොන්න නෑ මුන් ඉන්නවා. එතකොට මෙහෙම ඉද්දින් කවුද ඉන්නෙ සර්පයෙක්, කුරුල්ලෙක්, වඳුරෙක්, ගවයෙක්, බල්ලෙක්, ඔය වගේ සත්තු ඉන්නවා. ඊළඟට කිඹුලෙක්. එතකොට මෙයාලා මොකද කරන්නෙ මේ සත්තු ටික එක ලණුවෙ ඔක්කොම ලණු හයක් අරන් ඇවිල්ලා මැද එක ගැටයක් ගහලා තියෙනවා. හැබැයි පොළොවට කොහෙටවත් සම්බන්ධ නෑ. මෙයාගෙන් කවුද බලවත් වුනේ, අදිනවා. කිඹුලා බලවත් වුනොත් වතුරට අදිනවා. බල්ලා බලවත් වුනොත් ගමට අදිනවා. හිවලා බලවත් වුනොත් සොහොනට අදිනවා. කුරුල්ලා බලවත් වුනොත් අහසට අදිනවා. සර්පයා බලවත් වුනොත් ගුලට අදිනවා. ඔය වගේ. වඳුරා බ ලවත් වුනොත් ගහකට අදිනවා. ඉතින් මේ විදියට ඒ සත්තුන්ගෙන් කවුද ප්‍රබල වෙන්නෙ අදිනවා. ඔන්න ඒ වගේ තමයි කිව්වා අපේ ජීවිතේ. අපි දැන් මෙහෙම ඉන්නවා ගැට ගහලා තියෙන්නෙ. දැන් ඔන්න අපිට හිතෙනවා ටීවී එක බලන්න ඕන. දැන් ඔන්න හිතට හිතුනා. දැන් ඔන්න හිත බලවත් වුනා. ඔන්න දැන් ඇදගෙන යනවා ටීවී එක ළඟට. එතකොට ඇස, කණ, නාසය, දිව, කය ඒ පහ ඇදගෙන ගියා හිත විසින්. ඔන්න ඊටපස්සෙ ටීවී එක දැම්මා. දැන් ඇහැ බලවත් වුනා. දැන් ඇහැට ඕන විදියට මේක පැය ගාණක් පුටුවෙ ඉන්දලා තියෙනවා. කණ, නාසය, දිව, කය, මනස ඔක්කොම ඉන්දවලා තියෙනවා දැන් ඇහැට ඕන විදියට. එතකොට එහාපැත්තෙ ගෙදර සින්දුවක් දාලා. ඊටපස්සෙ මොකක්ද ඒ අලුත් සින්දුව. දැන් යනවා. දැන් කණ විසින් ඇදගෙන යනවා අනිත් ආයතන හයම. එතකොට අම්මා තෙල් දානවා කරවල බැදුමක්. කුස්සිය පැත්තට යනවා. එතකොට මොකක්ද ප්‍රබල වෙන්නෙ ඒකට ඇදගෙන යනවා. එතකොට දාඩිය දානවා එළියෙ ඉන්නකොට, කුස්සියෙ ඉන්නකොට. ඊටපස්සෙ හිතෙනවා දාඩිය දානවා ෆෑන් එක ළඟට යන්න ඕන. දැන් කය. ඊටපස්සෙ ෆෑන් එක ළඟට ගිහිල්ලා දාගෙන ඉන්නවා. ඔය විදියට සත්තු හය දෙනෙක් හයපැත්තට ඇද ඇද යනවා වගේ ආයතන හය විසින් හය පැත්තකට ඇද ඇදා අපිව තම්බනවා. මඩවනවා. පුදුම වදයක් දෙන්නෙ. ඉතින් මේවා ගැන බුදුරජාණන් වහන්සේ මේ ආයතන ගැන මේ විදියට විස්තර කලා. මේ බුදුරජාණන් වහන්සේට තරම් නම් මේ අභ්‍යන්තර බාහිර ආයතන ගැන

දැනුමක් තියෙන කෙනෙක් හිතාගන්නවත් බෑ. ඉතින් ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මේ ආයතන ගැන ඔය විදියට දේශනා කරපු වෙන ශ්‍රමණ බ්‍රාහ්මණයෙක් අවබෝධයක් තියෙන ලෝකයේ නෑ කියලා මට පැහැදීම තියෙනවා බුදුරජාණන් වහන්සේ ගැන. ඊළඟට සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා භාග්‍යවතුන් වහන්සේ මව්කුසේ පිළිසිඳගන්න ජීවියෙක් ගැන. සත්ත්වයෙක් මව්කුසේ පිළිසිඳගැනීම ගැන අපිට දේශනා කරලා තියෙනවා. ඒක අනුත්තරීයයි. ඒ කියන්නෙ එතනින් එහාට ආයෙ විග්‍රහයක් නෑ ලෝකෙ. ඒ තමයි බුදුරජාණන් වහන්සේ දේශනා කලා හතරක් තියෙනවා මව්කුසේ පිළිසිඳ ගැනීම්. මොනවද ඒ, මෙහිලා ඇතැමෙක් නොදැනම මව්කුසට එනවා. නොදැනම මව්කුසේ ඉන්නවා, නොදැනම මව්කුසෙන් බිහිවෙනවා. මෙය මව්කුස පිළිබඳ පළවෙනි විග්‍රහයයි. ඒ කියන්නෙ මොකක්වත් දන්නෑ අපි වාගේ. අපි මව්කුසට ආපු විදිය දන්නෙත් නෑ, හිටපු විදිය දන්නෙත් නෑ, ඉපදුණු විදිය දන්නෙත් නෑ. තව ස්වාමීනී මෙහි ඇතැම් කෙනෙක් දන්නේම මව්කුස පිළිසිඳ ගනියි, නොදන්නේම මව්කුස සිටියි, නොදන්නේ මව්කුසෙන් බිහිවේ. මෙය මව්කුස පිළිසිඳ ගැනීමේ දෙවැන්නයි. අපි කියමුකො දෙවියෙක් වගේ කියලා. ඒ දෙවියා දන්නවා මං දැන් චුත වෙලා මේ අම්මගේ බඩට දැන් යනවා. එතකොට එයා දැනගෙන මව්කුසට එනවා. හැබැයි ඇතුලෙ මව්කුසට ආවට පස්සෙ දන්නෙ නෑ, එළියට එනකලුත් දන් නෑ. තවද ස්වාමීනී යම්කිසි කෙනෙක් දැනගෙනම මව්කුසට එයි, දැනගෙනම මව්කුසේ ඉදියි, එනමුදු නොදන්නේම මව්කුසෙන් බිහිවෙයි. බිහිවෙනකොට දන්නෑ එයා. තවද ස්වාමීනී මෙහි ඇතැමෙක් දන්නේම මව්කුස පිළිසිඳ ගනියි, දන්නේම මව්කුස සිටියි, දන්නේම මව්කුසින් බිහිවෙයි. මේ මව්කුස පිළිසිඳ ගැනීමේ හතරවෙනි ක්‍රමය. මහාබෝධි සත්ත්වයෝ දැන් ශාලාවක් ගත්තොත්, ශාලාවට ඇතුල් වෙනවා දන්නවා. ශාලාවේ ඉන්නවා දන්නවා, ශාලාවෙන් එළියට යනවා දන්නවා. ඒ වාගේ මහාබෝධිසත්ත්වයෝ අම්මාගේ කුසට එනවා දන්නවා, කුසේ ඉන්නවා දන්නවා, කුසෙන් බිහිවෙනවා දන්නවා. ඉතින් මේ වාගේ මව්කුසේ සිටීමේ ක්‍රම හතරක් තියෙනවා. ඉතින් මේ විග්‍රහයවල් ආයෙ ලෝකෙ තවත් කෙනෙක් නම් කරලා නෑ. බුදුරජාණන් වහන්සේමයි. ඉතින් මේ පිළිබඳව අවබෝධය බුදුරජාණන් වහන්සේට තියෙනවා, ඒ අවබෝධයට එහා තවත් අවබෝධයක් වෙන කෙනෙකුට නම් තියෙන්න විදියක් නෑ. තවද ස්වාමීනී අනුන්ගේ සිත ගැන කරුණු පැවසීමේ ක්‍රම පිළිබඳව භාග්‍යවතුන් වහන්සේ යම් අයුරකින් දේශනා කරන ලද්දේද මෙය අනුත්තරීය ධර්මයක්. අනුන්ගේ හිත බලන්න පුලුවන් ක්‍රම

හතරක් තියෙනවා. ඒක අනුත්තරීයයි. ඒ කියන්නෙ එතනින් එහාට ආයෙ විග්‍රහ නෑ. ඒ තමයි ලෝකෙ උපරිම විග්‍රහය. ඒ පිළිබඳව බුදුරජාණන් වහන්සේට අවබෝධයක් තියෙනවා. ඒ තමයි, පළවෙනි ක්‍රමය තමයි ඒ කෙනාගේ ඉරියව් වලින් සාමාන්‍යයෙන් පින්වතුනි මේ ලෝකයේ අපි හිතන ඒවා අපේ මූණෙ අංශු මාත්‍රයකට හරි එනවා. බාහිර රූපයෙන් ප්‍රකට වෙනවා. චුට්ටකින් හරි එනවා. ඇහැක, ඇහිබැල්මෙ හරි, ඊළඟට මූණෙ හරි, කණේ හරි, එක්කො මූණෙ පාට හරි, අතපයක හරි, මොකක්හරි එයාගේ හිතේ තියෙන දේ ඒ වෙලාවට එනවා. එතකොට සමහර අය ඉන්නවා ඔය නිමිත්ත දන්නවා. ඒ කියන්නෙ මේ මූණෙ මේ විදියට වෙනස් වෙන්නෙ හිතින් මෙහෙම හිතුවොත් කියලා. දැන් අපි සාමාන්‍යයෙන් කියන්නෙ මොකද ප්‍රශ්නයක්ද, මොකද වෙලා තියෙන්නෙ. ඒ ඕලාරික දේවල්. ඊටපස්සෙ මොකද අද මූණ කළු වෙලා. ඕලාරික දේවල්. වැඩිය ඕන නෑ නිදාගෙන ඇහැරිච්ච ගමන් ඇස් දෙක පුංචි වෙලා, නිදාගත්තද. එතකොට ඕවා ඕලාරික දේවල්. එහෙම නෙවෙයි පුංචි පුංචි දේවලින් පවා ඔයා දැන් හිතුවෙ මේක, හිතන්නෙ මේක කියලා කියන්න පුලුවන්. ඉරියව් වලින්. හැබැයි මේකත් ආදේශනා විදියක්. අන් අයගේ හිත කියවන විදියක්. එතකොට මේක හිත කියවන විදියක් කියලා බුදුරජාණන් වහන්සේ තමයි කියලා දුන්නෙ. දෙවෙනි ක්‍රමය තමයි එයා ඉරියව් වලින් බලන්නෙත් නෑ. එයාට යම්කිසි මනුස්සයෙක් හෝ අමනුස්සයෙක් එයාට කියනවා. මෙයා දැන් හිතන්නෙ මේක කියලා. එතකොට ඒ ක්‍රමයෙන් එයාගේ හිත කියනවා. තුන්වෙනි ක්‍රමය තමයි මෙයා නිමිත්තකින් කියන්නෙත් නෑ, කවුරුත් කණට ඇවිල්ල කොඳුරලා කියන්නෙත්නෑ. මෙයාට විතක්ක විචාර සද්දෙ ඇහෙනවා. එතකොට විතක්ක විචාර සද්දෙ. හිතන විදිය, හිතන සිතුවිලි ටික අහුවෙනවා. කියන්නෙ අපි දැන් හිතින් හිතාගෙන ඉන්නකොට ඒක පින්වත්නි මේ ලෝකෙ යම් කෙනෙකුට ඇහෙනවා එයා හිතන දේවල් ටික. ඊළඟ එක හතරවෙනි ක්‍රමය තමයි විතක්ක විචාර නැති සමාධියකට තමන් සමවදිනවා භාවනාවෙන්. සමාධියකට සමවැදිලා අනිත් එක්කෙනාගෙ හිත බලනවා. හිත බලනකොට පේනවා දැන් මොනවද හිතන්නෙ කියලා. ඕකට කියනවා ආදේශනා විදි හතර කියලා. භාග්‍යවතුන් වහන්සේ තමයි ඔය ආදේශනා විධි හතර දේශනා කලේ. මෙවැනි වූ ආදේශනා ක්‍රම තියෙන, මේ විදියට ධර්මය දේශනා කරපු මේ විදියට මේ ගැන විග්‍රහ කරපු වෙනත් කෙනෙක් නම් නෑ බුදුරජාණන් වහන්සේ තරම්, මේ සියල්ලෙම අවබෝධය තියෙන්නෙ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේට. ඉතින් ස්වාමීනී මේවා කල්පනා කරනකොට මට හිතුනා

භාග්‍යවතුන් වහන්සේ හැර මේවා පිළිබඳව නම් දන්නා දකිනා කෙනෙක් නම් තවත් නම් නෑ කියලා. ඒ වගේම ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මෙහිලා දර්ශන සමාපත්ති බුදුරජාණන් වහන්සේ දේශනා කලා. භාග්‍යවතුන් වහන්සේ දර්ශන සමාපත්ති මෙතනින් එහාට ඒ ගැන විග්‍රහයක් කරන්න පුලුවන් කෙනෙක් ලෝකෙ නෑ. ස්වාමීනී දර්ශන සමාපත්තීන් හතරක් තියෙනවා. මොකක්ද ඒ දර්ශන සමාපත්තිය. මේක පින්වතුනි එක්තරා සමාපත්තියක්. භාවනාවෙන් තමයි වැඩෙන්නෙ. ඒ මොකක්ද මෙයා හොඳට වීර්යය කරලා, මැනැවින් වීර්යය කරලා මහන්සි වෙලා සමාධියක් වඩාගන්නවා. සමාධියක් උපද්දවගත්තට පස්සෙ මේ සමාධිය තුළ මෙයාට පේනවා මේ ශරීරයේ කෙස්, ලොම්, නිය, දත්, සම, මස්, නහර, ඇට, ඇටමිදුළු, වකුගඩු, හදවත, අක්මාව, දලබුව, පිත්තාශය, බඩදිව, මහාබඩවැල, කුඩාබඩවැල, ආමාශය, අශුචි ආදී දේවල් ටික පේනවා, කුණප කොට්ඨාශ. පිත, සෙම, සැරව, දහදිය, ලේ, තෙල්මන්ද, සොටු සෙම සැරව ලේ දහදිය මේ ඔක්කෝම ටික මුත්‍රා, මේ ඔක්කොම ටික පේනවා. දෙතිස් කුණප කොට්ඨාශයෝම පේනවා. පේන්නෙ සමාධියට. සමාධියට පේන්නෙ. එතකොට මේ භාවනා කරගෙන යනකොට ඒ භාවනාව තුළින් උපන්නාවූ සමාධිය, එතකොට එතන එයාට චී කියලා පිළිකුළ එන්නෑ. ඇයි මෙයාගේ හිත සමාධිමත් වෙලා, අකුසල් ධර්මයන්ගෙන් වෙන් වෙලා. චී කියලා මූණ ඇඹුල් වෙලා, චී කියලා එහෙම වෙන් නෑ. ඒක එන්නෙ දර්ශන සමාපත්තියට. ඒ තුළ තියෙන්නෙ අවබෝධයක්. යම්කිසි හොඳට නුවණින්, අවිජ්ජා දෝමනස්සයට හිත වැටෙන්නැතිව හොඳට බලන එකක් තියෙන්නෙ. අන්න ඒක දර්ශන සමාපත්තිය. එතකොට මේ කෙස්, ලොම්, නිය, දත ආදී හැම එක්කෙනාටම ඒ කේසා ලෝමා කිච්ච පමණට පේන් නෑ. ඒකට නුවණින් විමසන්න ඕන. එතකොට සමාධියක් තුළින් තමන්ටම පේන්න ගන්නවා. ඒක දර්ශන සමාපත්තිය. එතකොට තවත් කෙනෙක් ඉන්නවා, ඊටපස්සෙ එයා තව තව තව තව මේ තුළ සමාධිය වඩනකොට මෙයාට කෙස්, ලොම්, නිය, දත් ටික එහෙම පේන්නැතිව ගිහිල්ලා ඇට සැකිල්ල විතරක් පේන්න ගන්නවා. ඇටසැකිල්ල විතරක්, එතකොට එයා ඒ ඇටසැකිල්ල විතරක් පෙනුනා කියලා බය වෙන්නෙවත් චී කියන්නෙවත් එහෙම නෑ. ඒක අවිජ්ජා දෝමනස්සයෙන් තොරයි. ඒක යම් සමාපත්තියක්. සමාධිය තුළ ඇතිවන ස්වභාවයක් ඒක. එතකොට ඒ අට්ඨික සංඥාව. ඒ ඇටසැකිල්ල දකිනවා. ඔය දෙවෙනි දර්ශන සමාපත්තිය. ඊළඟට එයාට පේනවා, මේ තුළිනුත් සමාධිය තව තව තව තව වඩ වඩාගෙන යනකොට විඤ්ඤාණය පේනවා. එතකොට ඒ විඤ්ඤාණය

හොඳට පේනවා, මේ ලෝකෙත් විඥ්ඤාණය පිහිටලා තියෙනවා, පරලෝකෙත් විඥ්ඤාණය පිහිටලා තියෙනවා. හොඳට විඥ්ඤාණය පිහිටලා තියෙනවා පේනවා. ඊටපස්සෙ එතකොට එහෙනම් අපි ජීවිතේ මේ ලෝකෙත් පිහිටලා, පරලෝකෙත් පිහිටලා. ඒකයි මේ ජීවිතේ අත්හැරිය ගමන් ඊළඟ ජීවිතේ උපදින්නෙ. ලෝක දෙකක හිත පිහිටලා තියෙන්නෙ. දැන් ඊළඟ හතරවෙනි එක තමයි මේ ජීවිතෙත් පිහිටලා නැති, පරලෝකෙත් පිහිටලා නැති විඥ්ඤාණයක් පේනවා. මෙලොවත් පිහිටලා නෑ, පරලොවත් නෑ, මෙලොවත් පිහිටලා නැති පරලොවත් පිහිටලා නැති විඥ්ඤාණය කාටද පේන්නෙ. රහතන් වහන්සේ නමකට. ඒකත් එයාට පේනවා. ඒක දර්ශන සමාපත්තිය. මේ දර්ශන සමාපත්ති හතර භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ දේශනා කලා, මේ වාගේ අවබෝධයක්, ඥාණයක්, වටහාගැනීමක්, අවබෝධයක් තියෙන කෙනෙක්නම් ආයෙ නම් නෑ බුදු කෙනෙක් හැරුණුකොට. ඊටපස්සෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කලා මේක අනුත්තරීයයි, එතනින් එහාට විග්‍රහයක් නම් නෑ. ඒ වගේම සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කලා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ඒ තමයි භාග්‍යවතුන් වහන්සේ දේශනා කලා පුද්ගලයන්ගේ පැනවීම්, ඒ පුද්ගලයන්ගේ ස්වභා, මොනවාද, මේ ධර්ම මාර්ගය දියුණු කරන හත්දෙනෙක් ඉන්නවා. ධර්ම මාර්ගය තුළ, මේ බුද්ධ ශාසනයේ කතා වෙන. එකක් තමයි උභතෝභාග විමුක්ත. උභතෝභාග විමුක්ත කියන්නෙ එයා සමාධියෙනුත් උපරිමේට ධ්‍යාන වලට සමවැදිලා, ඒ වගේම විදර්ශනාවෙනුත් කෙලෙස් නසාගෙන තියෙනවා. එයා උභතෝභාගවිමුක්ත. ප්‍රඥා විමුක්ත කියලා කියන්නෙ සමාධිය තුළින් හතරවෙනි ධ්‍යානයට හිත වඩලා ප්‍රඥාව තුළින් කෙලෙස් නසලා. සමහර විට ප්‍රඥාවිමුක්ත රහතන් වහන්සේලාට ඍද්ධි ප්‍රාතිහාර්ය, චේතොපරිය ඥාණය ආදී ඥාණ නොතිබෙන්න පුලුවන්. නමුත් කෙලෙස් නසලා. ඊටපස්සෙ කායසක්කි. කායසක්කි කියලා කියන්නෙ හොඳට නුවණ, කායසක්කිදිට්ඨාපත්ත. සමාධිය මුල් කරගෙන මාර්ගය වඩනවා, මාර්ග ඵල අවබෝධයට පත්වෙනවා, ඊළඟට නුවණ මුල් කරගෙන විදර්ශනාව මුල් කරගෙනම මාර්ගය වඩනවා. ඊළඟට ශ්‍රද්ධාවිමුක්ත කියලා ඉන්නවා, ශ්‍රද්ධාව මුල් වෙලා. ධම්මානුසාරී, ධර්මය නුවණින්, සෝවාන් නොවුණු නමුත් හොඳට ධර්මය ගැන වැටහීම තියෙන, ශ්‍රද්ධානුසාරී. මේ විදියට තමයි මේ බුද්ධ ශාසනේ තුළ ඒ පුද්ගලයන් පිළිබඳව විග්‍රහයක් තියෙන්නෙ. ශ්‍රද්ධානුසාරී, ධම්මානුසාරී, කායසක්කි, දිට්ඨපත්ත, ප්‍රඥා විමුක්ත, ඊළඟට උභතෝභාග විමුක්ත කියලා. ඉතින් භාග්‍යවතුන්

වහන්සේ හැර මේවා ගැන තේරුම් කරන්න, විස්තර කරන්න කෙනෙක් නෑ. ඇත්තටම මේ හැමදෙයක්ම අපි කතා කරන හැමදෙයක්ම බුදු කෙනෙක් පහළ වුන නිසානෙ. ඉතින් සාරිපුත්ත මහරහතන් වහන්සේ නුවණින් දැක දැක කියන්නෙ මේවා. කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ පධන්වීර්යය පිළිබඳව යම් අයුරකින් භාග්‍යවතුන් වහන්සේ ධර්ම දේශනා කලානෙ, ඒක අනුත්තරීයයි. එතනින් එහාට නම් ආයෙ විස්තර කරන්න කෙනෙක් නෑ. ඒ තමයි පධන්වීර්යය පිළිබඳව තියෙන අනුත්තරීය ධර්ම, සම්බොජ්ඣංගයෝ හතකි. ඒ තමයි, සති සම්බොජ්ඣංගය, ධම්මවිචය සම්බොජ්ඣංගය, විරිය සම්බොජ්ඣංගය, ප්‍රීති සම්බොජ්ඣංගය, පස්සද්ධි සම්බොජ්ඣංගය, සමාධි සම්බොජ්ඣංගය, උපෙක්ඛා සම්බොජ්ඣංගය. ස්වාමීනී පධන්වීර්යය පිළිබඳව මේ අනුත්තරීය ධර්ම හත තමයි බුදු කෙනෙක් හැර කාටවත් නම් වෙන කියන්න බෑ. බොජ්ඣංග ධර්ම හත වඩනවා කියන එක තමයි පින්වත්නි පධන් වීර්යය වැඩෙනවා කියන්නෙ. ඊළඟට සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා ස්වාමීනී, භාග්‍යවතුන් වහන්සේ ප්‍රතිපදා හතරක් අපිට කියලා දුන්නා. ඒ ප්‍රතිපදා හතරින් තමයි මේ ලෝකෙ කෙනෙකුට ධර්මය අවබෝධ වෙනවා නම් අවබෝධ වෙන්නෙ. ඒ තමයි කෙනෙකුට තියෙනවා ඉතා සෙමෙන් අවබෝධ වෙන දුක් ඇතිවෙන ප්‍රතිපදාවක්. දුක්ඛාපටිපදා දන්ධාභිඤ්ඤා. ඒ කියන්නෙ එයාට ප්‍රතිපදාව දුකයි. හරියට කාමයෙන්, පටිගයෙන්, කෙලෙස් වලින් හරියට බැට කනවා. හැබැයි මෙයා හිමීට හිමීට අවබෝධය කරා යනවා. දුක්ඛාපටිපදා දන්ධාභිඤ්ඤා. දුක්ඛාපටිපදා ඛිප්පාභිඤ්ඤා, රාග ද්වේෂ මෝහ වලින් ගොඩාක් බැට කනවා. හැබැයි ඉක්මණට අව... මේ ඉඳුරන් වල තියෙන වෙනස. ශ්‍රද්ධා, විරිය, සති, සමාධි, ප්‍රඥා කියන ඉන්ද්‍රියන්වල තියෙන වෙනස මේ. ඒක දුක්ඛාපටිපදා ඛිප්පාභිඤ්ඤා. ඊළඟට තව පෙළක් අය ඉන්නවා, හොඳට හිත සමාධිමත් වෙනවා. කෙලෙස් වලින් බැටකනවා අඩුයි. නමුත් අවබෝධයත් හෙමීට. සුක්ඛාපටිපදා දන්ධාභිඤ්ඤා. සමහර අය ඉන්නවා හිත ඉක්මණට එකඟ වෙනවා. අවබෝධයත් ඉක්මණට සිද්ධ වෙනවා, සුක්ඛාපටිපදා ඛිප්පාභිඤ්ඤා. ඉතින් බුදුරජාණන් වහන්සේට කියාහිටිනවා ස්වාමීනී, භාග්‍යවතුන් වහන්සේ තරම් මේවා ගැන මේ තරම් විස්තර කරපු කෙනෙක් වෙනත් නම් නෑ කිව්වා. මේවා අන්‍යාගම් වල අය දන්නවද? අහලවත් තියෙනවාද මේවා අන්‍යාගම් වල අය. වැඩිය ඕන නෑ, එකල දඹදිව වෙනත් තාපසවරුවත්, කිසි කෙනෙක් අහලවත් නෑ. මේ බුද්ධ ශාසනයේ සියලුම ශ්‍රාවකයො මේ ධර්මය වැඩුවේ බුදුරජාණන් වහන්සේගේ අනුශාසනාවත්

එක්ක. සියලුම රහතන් වහන්සේලා බුද්ධ අනුශාසනාවෙන් බිහිවෙන්නෙ. ඒකයි භාග්‍යවතුන් වහන්සේගේ හදමඩලෙන් උපන්න දරුවෝ කියන්නෙ. ඖරසපුත්‍ර කියන්නෙ. ඉතින් ඒ නිසා තවද ස්වාමීනී, කථාබස් කිරීමේ වැදගත් පිළිවෙල පිළිබඳව භාග්‍යවතුන් වහන්සේ දේශනා කලා. ඒ කියන්නෙ කතාවේ තියෙන වැදගත්කම. බුදුරජාණන් වහන්සේ වදාලා කතාවේ වැදගත්කම ඇතිවෙන්නෙ කතාවට බොරුව එකතු වෙන්න හොඳ නෑ. ඊළඟට කේලම එකතු වෙන්න හොඳ නෑ. පරුෂ වචන කතාව එකතු වෙන්න හොඳ නෑ, කේලම් එකතු වෙන්න හොඳ නෑ. හිස් වචන එකතුවෙන්න හොඳ නෑ. එකට එක කතාකොට ජය අපේක්ෂාවෙන් කතා කරන්න හොඳ නෑ. නුවණින් හිත හිතා වචන කතා කරන්න ඕන. සිතෙහි රඳවාගත යුතු නිසි වචන කතා කරන්න ඕන. ස්වාමීනී වැදගත් විදියට කතා කරන හැටිත් ඉගැන්නුවේ භාග්‍යවතුන් වහන්සේ. මේ ලෝකේ වැදගත් කථාව කියන එක විග්‍රහ කලේ බුදුරජාණන් වහන්සේ කිව්වා. වෙන කෙනෙක් නම් වැදගත් කථාවක් කියන එක විග්‍රහ කලේ නෑ කිව්වා. ඒ නිසා සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, භාග්‍යවතුන් වහන්සේ තරම් නම් කෙනෙක් මේ ලෝකෙ නෑ. මේ විදියට තවත් ඉදිරියට විස්තර කරගෙන යනවා, අපි ඒ විස්තර විග්‍රහයත් අපි ඉගෙන ගනිමු. ඉතින් බලන්න පින්වතුනි හරි ආශ්චර්යයි, අද්භූතයි, අපගේ අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. මේවා කියාගෙන යනකොට තේරෙනවා නේද මුලු නිවන් මාර්ගය, මුළු බුද්ධ ශාසනයේම අපි පිහිට ගන්නෙ බුදුකෙනෙක් පහළ වුන නිසා නේද කියලා සක් සුදක් සේ පේනවා නේද. භාවනාවක්වත් හරියට කරන්න බෑ පින්වතුනි බුදු කෙනෙක් පහළ නොවුනා නම්. ඒ නිසා සාරිපුත්ත මහරහතන් වහන්සේ යම්විදියකට පැහැදුනාද, අන්න ඒවා ගුණ අහලා අපේ හිතත් අපි පහදවා ගනිමින් අසිරිමත් සම්බුදු සරණේ සැනසෙමු. බුදුරජාණන් වහන්සේ දිවි හිමියෙන් සරණ යනවා, ශ්‍රී සද්ධර්මය සරණ යනවා, ආර්ය සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. නිවන් දකිනා මොහොත දක්වා මේ උතුම් සම්බුදු සරණේ පිහිට, තිසරණයේ පිහිට සැලසිලා, දුකින් නිදහස් වෙත්වා කියලා අපි සිහියට ගනිමු.

ඉතින් අද දිනයේත් අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ පින්වත් ප්‍රමෝද් කණිෂ්ක රාජකරුණා මහත්මයා සහ සුභාෂිණී තිලකරත්න මහත්මිය, සුනිල් තිලකරත්න මහත්මා සහ එම මහත්මිය, මහේෂ් සඳරුවන් මහත්මා සහ තෙස්මා හංසනී මහත්මිය. ඉතින් මේ පින්වතුන් අද රැස් කරගත්ත අප්‍රමාණ පින ධර්මදානයෙන් මේ සම්පසාදනී

සූත්‍රය අපි කතා කලේ අද, දීඝ නිකායේ සම්පසාදනී සූත්‍රය. ඉතින් ඒ කොටසක්, අපි ඊළඟ දවසේ ඉතුරු කොටස කතා කරගමු. ඉතින් ඒ සම්පසාදනීය සූත්‍රයේ ප්‍රඥාවෙන් අග්‍ර සාරිපුත්ත මහරහතන් වහන්සේ යම්තාක් බුදුගුණ කිව්වද, ඒවා ඒකාන්තයෙන් සත්‍යයි. භාග්‍යවතුන් වහන්සේගේ අසිරිමත් සත්‍යානුභාවයෙන්, ලෝකයටත් සියලු සත්ත්වයන්ටත් සෙත් වේවා. ලෙඩක් දුකක් කරදරයක් පීඩාවක් හිංසාවක් උපද්‍රවයක් නොවේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරමු. ඒ වගේම අපි සෙත් ප්‍රාර්ථනා කරමු, පින් පමුණුවමු සියලු දෙවියන්ට මේ පින් අනුමෝදන් වී සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා. ඒ වාගේම මියපරලොව ගිය ඥාතීන්ට අනුමෝදන් කරමු පින මියපරලොව ගිය වික්ටර් රාජකරුණා පියාණන්ට සහ සුනිල් තිලකරත්න මහත්මයාගේ මියපරලොව ගිය දෙමව්පියන්ට පින් අනුමෝදන් වේවා. ඒකාන්තයෙන් මේ පින් අනුමෝදන් වේවා, ඒ ඇත්තෝ පරලොව සැපයට පත්වේවා. පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා අද අපි මේ විදියට ධර්මය කතා කරන්නෙ. ඉතින් ඒ නිසා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා කියලා ලොකු ස්වාමීන් වහන්සේට පින් අනුමෝදන් කරමු. ඒ වගේම සියලු ස්වාමීන් වහන්සේලාත්, අනාගාරිකා මෑණිවරුන්ටත්. පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් ධර්මාවබෝධයට මේ පින් හේතු වාසනා වේවා. ඒ වාගේම ධර්ම දානය ලබලා දුන්න පින්වතුන් නමින් සනුලි දහම්සා රාජකරුණා දියණියට මේ පින් අනුමෝදන් වේවා. ඉතින් ඒ දියණියට කතා කරන්න අපහසුතාවයක් තියෙනවා කියලා සඳහන් කරලා තියෙනවා. ඉතින් මේ ධර්ම දානයේ පින් බලයෙන් අපි ධර්මය කියූ පින් බලයෙන් මේ සනුලි දහම්සා රාජකරුණා දියණියට ඒ අපහසුතා, ඒ කරදර පීඩා දුරුවෙලා ඒ උවදුරු දුරු වේවා. මැනැවින් බුදුගුණ ඉතිපිසෝ ගාථාව ආදී ධර්මය සජ්ඣායනා කරලා පින් කරගන්න ඉක්මණින් වාසනාව සැලසේවා. කායික මානසික නිදුක් නිරෝගී සුවපත්භාවය සැලසේවා. සෙනුක දහම්සත් රාජකරුණා පුතාට, ඒ වගේම කුමාරි ගුණසේකර මහ්තමියට, සුනිල් තිලකරත්න මහත්මයාට සහ එම මහත්මියට නිදුක් නිරෝගී සුවපත් භාවය ඒකාන්තයෙන් සැලසේවා. විදේශ ගතව සිටින සහෝදර සහෝදරියන්ට නිදුක් නිරෝගී සුව සැලසේවා. සුජීවත්ව සිටින තිලකරත්න මහත්මියගේ මෑණියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය දීර්ඝායුෂ සැලසේවා. ඒ වගේම ප්‍රමෝද් කණිෂ්ක රාජකරුණා මහත්මයා, සුභාෂිණී තිලකරත්න මහත්මිය, ඒ වගේම මහේෂ් සඳරුවන් මහත්මාත්, තෙස්මා

හංසනී මහත්මිය ඇතුලු ඒ දායකත්වය දැරූ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. අප්‍රමාණ ධර්ම දානයේ පින් බලය ඔබව සුවපත් කරන්වා, නිවනින්ම සැනසෙත්වා. ඒ වගේම මව්දෙමව්පිය ඥාති බන්ධු මිත්‍රාදීන් කාටත් මේ පින් අනුමෝදන් වේවා. අපි සියලු දෙනාට ගෞතම බුද්ධ ශාසනයේ ධර්මය අවබෝධ කරගන්න, සියලුම දෙනාට ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරූ ගුවන්විදුලියේ ධර්මය අහන, ඒ වගේම දායකත්වය දරන, කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට ඔබ අපි කාටත් අසිරිමත් සම්බුදු සරණ තුළ සැනසී නිවනින් සැනසෙන්න මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=C9vqzemhlpI&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=57

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ පදිංචි පින්වත් චාමර සන්දීප් ජයසූරිය මහත්මයා, චතුරිකා මධුෂානි මහත්මිය සහ අයුවි ඔහාරා දියණිය. මේ දියණිය ඇතුලු ඒ පින්වතුන් අද දවසේ මේ ධර්ම දානය සිද්ධ කරනවා. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ ඒ උතුම් ශ්‍රී සද්ධර්මය ලෝකයේ කොතනක හිටියත් සදහම් අසුනු කැමැති අයට අහන්න සලස්වන මේ ධර්ම

දානමය පින ඔබට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. එතකොට පින්නපොල ගුරු පියාණන්ට නිදුක් නිරෝගී සුව දීර්ඝායුෂ සම්පත්තිය ප්‍රාර්ථනා කරලා මේ පින්වතුන් සෙත් ප්‍රාර්ථනා කරන්නටත් බලාපොරොත්තු වෙනවා. ඉතින් අපි මේ දවස්වල කතා කරමින් හිටියේ බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු ගුණ, සාරිපුත්ත මහරහතන් වහන්සේ විසින් දේශනා කරපු සූත්‍රය, සම්පසාදනී සූත්‍රය, දීඝ නිකායේ. පින්වතුනි සාරිපුත්ත මහරහතන් වහන්සේ තමයි වැඩිපුරම බුදුගුණ කියපු මහරහතන් වහන්සේ. සාරිපුත්ත මහරහතන් වහන්සේ ප්‍රඥාවෙන් අග්‍ර ශ්‍රාවකයන් වහන්සේ වෙන්න කලින් අතීතයේ බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ තමයි ඉස්සෙල්ලාම වර්ණනා කරලා තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේගේ බුදු නුවණට, බුදුරජාණන් වහනසේගේ ඥාණයට ප්‍රශංසා කරලා. එතකොට ඒ චිත්ත ප්‍රසාදයෙන් තමයි ඒ සාරද කියන තාපසයා අනෝමදස්සී බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ, මීට කල්ප ලක්ෂයකුත් අසංඛෙය්‍යක් පෙර, උන්වහන්සේ ප්‍රඥාවෙන් අග්‍ර ශ්‍රාවකයා විදියට අනාගතේ සිදු වෙනවා කියලා විවරණ ලබන්නෙ. ඉතින් බුද්ධ ශාසනයේත් උන්වහන්සේම බුදුගුණ වැනුවා. බුදුගුණ ප්‍රශංසා කලා. ඒ කියන්නෙ බුදු කෙනෙක්ගේ ගුණ ප්‍රඥාවෙන් දකින කෙනෙක් හැර වෙන කවුද දකින්නෙ. ඒ නිසා තමයි සාරිපුත්ත මහරහතන් වහන්සේට මේක කරන්න පුලුවන් වෙන්නෙ. ඒත් බුදු ගුණ කියන එක සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා විශාල ගංගා නම් ගඟට තිබ්බොත් එහෙම ඉදිකටුවක් ඉඳකටුවේ මල යටට තියෙන විදියට, ඒ ඉදිකට්ටේ මලේ සිදුරෙන් යම්විදියකට වතුර ගියාද, ඒ විදියට තමයි කියනවා සාරිපුත්ත මහරහතන් වහන්සේ ජීවිත කාලෙ කියපු බුදුගුණ. ඊටපස්සෙ අපි ඇඟිල්ලකින් මේ අවකාශෙ මෙහෙම වැහුවොත් මේ අවකාශය, එතකොට අවකාශෙ අපේ ඇඟිල්ලෙන් වැහිච්ච ප්‍රමාණය අඩුයි, අවකාශය වැඩියි. ඒ වගේ තමයි කියනවා සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරපු බුදුගුණ ඇඟිල්ලක් වගේ කියනවා, අවකාශයම වැඩියි කියනවා. ඒ වගේ බුදුගුණ වල නම් නිමාවක් නෑ. ඉතින් අපි අද සම්පසාදනී සූත්‍රයේ ඉතුරු කොටස කතා කරමු. සාරිපුත්ත මහරහතන් වහන්සේ බුදුරජාණන් වහන්සේ ඉදිරියේ මේ කියන්නෙ. අද කියන කොටස. කියනවා සාරිපුත්ත මහරහතන් වහන්සේ බුදුරජාණන් වහන්සේට. තවද ස්වාමීනී, පුරුෂයාගේ සීලයෙහි වැදගත් පිළිවෙල පිළිබඳව භාග්‍යවතුන් වහන්සේ ධර්මය දේශනා කලා. සීලය වැදගත්ම විදියට සිල් පුරන්නේ කොහොමද කියලා දේශනා කලේ බුදුරජාණන් වහන්සේ. ඒ කාලෙ සීලය විදියට

තිබ්බෙ මස් මාංශ කන්නැති එක. ඒ කාලෙ සීලය විදියට තිබ්බෙ ඇඳුම් අඳින් නැති එක. ඒ කාලේ සීලය විදියට තිබ්බෙ ඇඟේ අළු තවරා ගන්න එක. ඒ කාලෙ සීලය විදියට තිබ්බෙ අතට කෑම අරන් ලෙව කන එක. ඒ කාලෙ සීලය විදියට තිබ්බෙ ගවයෙක් විදියට ඉන්න එක. සුනඛයෙක් විදියට ඉන්න එක. එළුවෙක් විදියට ඉන්න එක. මේ වගේ තමයි ඒ කාලෙ සීල ව්‍රත තිබ්බෙ. එතකොට බුදුරජාණන් වහන්සේ තමයි වැදගත්ම සීලය දේශනා කළේ. ඒ තරම් එහාට සීලය විග්‍රහ කරන්න පුලුවන් උත්තමයෙක් තවත් නෑ. ස්වාමීනී මෙහිලා ඇතැමෙක් ශ්‍රද්ධාව ඇත්තේ වේ. කුහක නැත්තේ වේ. චාටු බස් නොකියන්නේ වේ. ලාභ අපේක්ෂාවෙන් නිමිති හඟවා නොකියන්නේ වේ. ලාභ අපෙක්ෂාවෙන් අනුන්ට ගරහා නොකියන්නේ වෙයි. ලාභ අපෙක්ෂාවෙන් ලාභයෙන් ලාභය නොසොයන්නේ වේ. ඉන්ද්‍රියන් පිළිබඳව වසාගත් දොරටු ඇත්තේ වේ. ආහාරයේ අර්ථය දැන වළඳන්නේ වේ. සමලෙස කටයුතු කරන්නේ වේ. නිදිමරමින් භාවනා කරන්නේ වේ. අලස නොවූයේ වේ. පටන් ගත් වීර්යය ඇත්තේ වේ. ධ්‍යානයේ යෙදී වසන්නේ වේ. සිහියෙන් යුතු වේ. සොඳුරු වැටහීමෙන් යුතු වේ. නොදත් දහම් දැනීමෙහි ආසා ඇත්තේ වේ. මනා මතක ශක්තියෙන් යුතු වේ. ප්‍රඥා ඇත්තේ වේ. පඤ්චකාමයන්හි ගිජු නොවේ. සිහි ඇත්තේ වේ. අවස්ථානෝචිත ප්‍රඥාවෙන් යුතු වේ. ස්වාමීනී පුරුෂයාගේ සීලයේ වැදගත් විදියට වඩන පිළිවෙල ඔන්න ඔය ගුණධර්මත් එක්ක, දැන් බලන්න ඔය ටික කියාගෙන යනකොට සීලයක් වැදගත් වෙන්නෙ කොහොමද කියලා. ඒකට එයාගෙ හිතෙ තියෙන සටකපට මායම් පවා අඩුවෙනවා නම් සිතේ වැදගත් ජීවිතයක්, ප්‍රඥාවෙන් යුක්ත වෙන්න ඕන සීලය. එතකොට ඒක තමයි වැදගත් සීලයක් වෙන්නෙ. එතකොට ඒ පිළිබඳව බුදුරජාණන් වහන්සේ තරම් විග්‍රහ කරපු කෙනෙක් නෑ තවත්. ඒකයි සාරිපුත්ත මහරහතන් වහන්සේ බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි, මේ ධර්මය ස්වාක්ඛාතයි, සංඝයා සුපටිපන්නයි කියලා මේ අනන්ත බුදුගුණ කියන්නෙ. කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ අනුශාසනා ක්‍රම පිළිබඳව භාග්‍යවතුන් වහන්සේට අවබෝධයක් තියෙනවා. ඒ අවබෝධයෙන් තමයි ධර්මය දේශනා කරන්නෙ. එතනින් එහා නම් එවැනි වැටහීමක් තියෙන කෙනෙක් නම් නෑ. මොකක්ද බුදුරජාණන් වහන්සේගේ අනුශාසනා ක්‍රම හතරක් තියෙනවා බුදුරජාණන් වහන්සේගේ. ඒ තමයි බුදුරජාණන් වහන්සේ අන්‍ය පුද්ගලයෙකුට, පුද්ගලයෙක් පිළිබඳව වෙන් වෙන් වශයෙන් නුවණින් යොදා මෙනෙහි කිරීමෙන් දන්නවා එනම් මෙන්න මේ පුද්ගලයාට මේ අයුරින් අනුශාසනාවක් කළොත් මේ අයුරින්

මෙයා පිළිපැද්දොත් සංයෝජන තුනක් ප්‍රහාණය වෙලා සෝවාන් වෙනවා සතර අපායෙන් නිදහස් වෙනවා. නියත පිහිට කරගන්නවා. බුදුරජාණන් වහන්සේ දන්නවා මං මේ විදියට මෙයාට අනුශාසනා කලොත් මෙයා සෝවාන් වෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේ එයාට සෝවාන් වෙන විදියට අනුශාසනා කරනවා. මේවා බුදු කෙනෙක් තමයි කරන්නෙ. බුදුරජාණන් වහන්සේට තේරෙනවා මං මේ විදියට අනුශාසනා කලොත් මෙයා සකදාගාමී වෙනවා. එතකොට සකදාගාමී කියන්නෙ සකිං ආගමිං, එක වරක් තමයි කාමලෝකෙට පැමිණෙන්නෙ. ඉන් අනතුරුව නිවන අවබෝධ කරනවා, අර්හත්වයට පත්වෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේ එයාට සකදාගාමී වීම පිණිසම අනුශාසනා කරනවා. එතකොට බුදුරජාණන් වහන්සේට තේරෙනවා මෙයාට මේ විදියට අනුශාසනා කලොත් මෙයා අනාගාමී වෙනවා. න ආගාමී, ආයෙ කාමලෝකෙට එන් නෑ. ශුද්ධාවාස බ්‍රහ්ම ලෝකෙන් පිරිනිවන් පානවා. එතකොට ඒ විදියට එයාට ධර්මය අවබෝධ කරන්න පුලුවන් වෙන්න කියලා බුදුරජාණන් වහන්සේ අනාගාමී වීම පිණිසම ධර්මය දේශනා කරනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේට තේරෙනවා මෙයාට මේ විදියට අනුශාසනා කලොත් මෙයා රහත් වෙනවා. එතකොට සියලු කෙලෙසුන් නසනවා. ආන්න ඒ අර්හත්වය පිණිස අනුශාසනා කරනවා. දැන් බුදුරජාණන් වහන්සේගේ මුළු සම්බුද්ධ ජීවිතයේම ඔය අනුශාසනානෙ තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ කෙනෙකුට එක්කෝ සෝවාන් වෙන්න ධර්ම අනුශාසනාව කරනවා. එක්කො සකදාගාමී වෙන්න, එක්කො අනාගාමී වෙන්න, එක්කො අර්හත්වයට පත්වෙන්න. ඔය පිණිසනේ ධර්මය දේශනා කරන්නෙ. එතකොට ඒ අනුශාසනාව බුදුරජාණන් වහන්සේට වැටහෙනවා මම කලින්ම දැන් මෙයාට මේ අනුශාසනාව දැන් කරන්න ඕන කියලා. එතකොට ඔවැනි වූ අවබෝධයක් තියෙන වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් නම් තවත් නෑ අපේ බුදුරජාණන් වහන්සේ හැර. ඊළඟට සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අන්‍ය වූ පුද්ගලයන්ගේ විමුක්ති ඥාණය පිළිබඳව භාග්‍යවතුන් වහන්සේ තේරුම් අරන් ධර්ම දේශනා කරනවා. ඒ තමයි බුදුරජාණන් වහන්සේ ළඟට කෙනෙක් එනකොට බුදුරජාණන් වහන්සේට කලින්ම තේරෙනවා මෙයාට නම් සෝවාන් වෙන්න පුලුවන්. එතකොට එයාගේ සෝවාන් වීමේ විමුක්ති ඥානය භාග්‍යවතුන් වහන්සේ තේරුම් අරන්ම තමයි එයාට ධර්මය දේශනා කරන්නෙ. බුදුරජාණන් වහන්සේට තේරෙනවා මෙයාට නම් සකදාගාමී වෙන්න පුලුවන්. එතකොට ඒක තේරුම් අරන්ම තමයි

බුදුරජාණන් වහන්සේ අනුශාසනා කරන්නෙ. දැන් කලින් ඒ පිණිස අනුශාසනා කලා. දැන් ඒක තේරුම් අරන් බුදුරජාණන් වහන්සේ ධර්මානුශාසනාව කරනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේට කෙනෙක් දැක්ක ගමන්ම කියන්න පුලුවන් මෙයාට අනාගාමී වෙන්න පුලුවන් කියලා. දැන් බලන්න මාගන්ධියා, මාගන්ධියා බ්‍රාහ්මණයයි, බැමිණියයයි. තමන්ගේ දෝණියන්දෑ උස්සගෙන එනකොට ඔබවහන්සේට විවාහ කරලා දෙන්නම් කියලා, එතකොට බුදුරජාණන් වහන්සේට ඒ අය දැක්ක ගමන්ම තේරෙනවා, අර කාන්තාව පොත්තෙ පාට තිබ්බට මහා හැතිරියක්. ක්‍රෝධයෙන් වෛරයෙන් පුපුරන ස්ත්‍රියක්. ඒ වුනාට බුදුරජාණන් වහන්සේට මාගන්ධිය බ්‍රාහ්මණයයි බැමිණියයි දකිනකොට, අම්මයි තාත්තයි, දකිනකොටම තේරෙනවා මේ අයට අනාගාමී වෙන්න පුලුවන් කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ ධර්ම දේශනා කරනවා. ධර්ම දේශනා කරනකොට ඒ දෙන්නා අනාගාමී වුනා, අරයා තරහා වුනා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ මේ විදියට මාර්ග ඵල ගැන උන්වහන්සේට අවබෝධය තියෙනවා. ඒ අවබෝධයට අනුව තමයි උන්වහන්සේට ඒ කෙනා දකිනකොටම මෙයා මොනවගේ තත්ත්වයකටද පත්වෙන්නෙ කියන එක තේරෙනවා. ඒක බුදුරජාණන් වහන්සේගේ විශේෂ ඥාණයක් පින්වත්නි. ඉතින් සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා මේ වාගේ පුදුම සහගත පුද්ගලයන් හඳුනාගන්න පුලුවන්, හඳුනාගෙන ධර්මය දේශනා කරන්න පුලුවන් ශාස්තෲන් වහන්සේ නමක් නම් ආයෙ නම් පහළ වෙන්නෑ. එතනින් එහාට අවබෝධයක් තියෙන කෙනෙක්. ඊටපස්සෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරනවා ස්වාමීනී මේ ලෝකයේ සාස්වත වාදී අදහස් මනුස්සයා තුළ හටගන්නවා තුන් ආකාරයකින්. එතකොට මනුෂ්‍යයා තුළ සාස්වතයි කියන අදහස මනුස්සයා තුළ ඇතිවෙනවා නම් යම් අයුරකින් ඒක ඇතිවෙන්නෙ මෙහෙමයි කියලා බුදුරජාණන් වහන්සේට තමයි හොඳටම තේරෙන්නෙ. ඔන්න දැන් ඔබ බ්‍රහ්මජාල සූත්‍රය අපි මීට කලින් කරපු දේශනා ටිකේ අහලා තියෙනවා නම් ඔන්න දැන් ඔබට මතක් වෙයි. තමාත් ලෝකයත් සාස්වතයි. තියෙනවා, ඉදිරියට තියෙනවා දිගටම පවතින එකක් කියලා ඇතිවෙන හැඟීම, දෘෂ්ටිය. මතවාදය. එතකොට කියනවා ස්වාමීනී, භාග්‍යවතුන් වහන්සේ තමයි අපිට දේශනා කලේ ඒ තමයි මෙහිලා යම් ශ්‍රමණ, බ්‍රාහ්මණවරු ඉන්නවා. ඒ ශ්‍රමණ බ්‍රාහ්මණවරු පෙර ජීවිත දකින ඥාණයක් උපද්දව ගන්නවා, භාවනාවෙන්, සමාධියෙන්. එතකොට පෙර ජීවිත දකින ඥාණය උපද්දවාගෙන ජීවිත බලනවා ආපස්සට ගොඩාක් බලනවා, එකක්, දෙකක්, තුනක්, දහයක්, සීයක්, දාහක්,

ජීවිත ලක්ෂ ගාණක් ආපස්සට බලනවා. ඒ ජීවිත ආපස්සට බලනකොට එයාට පේනවා තමන් මැරි මැරී උපදිනවා. හැබැයි මැරි මැරී ඉපදුනාට තමා කියලා කෙනෙක් ඉන්නවා, එතකොට එයාට පේනවා මේ ලෝකයෙම තමයි උපදින්නෙ. එහෙනම් ලෝකය කියලා එකක් තියෙනවා. ලෝකය ඇත, තමා නැත්නම් ආත්මයක් ඇත. සාස්වත දෘෂ්ටියට පත්වෙනවා ඔන්න පළවෙනි ක්‍රමය. මේක බුදුරජාණන් වහන්සේ තමයි කියලා දුන්නෙ. ඊළඟට දෙවෙනි ක්‍රමය තමයි, මේ ලෝකයේ එක්කෙනෙක් ඔන්න ජීවිතේ ආපස්සට බලනවා. මෙයා ජීවිත ලක්ෂ ගාණක් නෙවෙයි, මෙයාට සංවට්ඨ විවට්ඨ කල්ප පේනවා. සංවට්ඨ කියන්නෙ මේ ලෝකෙ නැතිවෙවී යනවා, විවට්ඨ කල්ප කියන්නෙ හැදි හැදී යනවා. එතකොට මෙයාට පේනවා සංවට්ඨ විවට්ඨ කල්ප එකක් නෙවෙයි, දෙකක් නෙවෙයි දැන් කල්පයක් ඇතුලත කොච්චර උපත් තියෙනවාද කියලා බලන්න. එච්චර පේනවා එයාට. සංවට්ඨ විවට්ඨ කල්ප දහයක් පේනවා. එතකොටත් එයාට පේනවා අර මැරි මැරී උපදිනවා වගේ ලෝකෙත් නැතිවෙවී හැදෙනවා. මේ සක්වල කොහෙහරි උපදිනවා. එතකොට මෙයා කියනවා ලෝකයක් කියලා එකක් තියෙනවා. ඊළඟට ආත්මයක් කියලා එකක් තියෙනවා. ඉතින් මැරි මැරී හරි තාම උපදිනවානෙ. ඕකත් ඇත කියන දෘෂ්ටිය. සාස්වත දෘෂ්ටිය. තුන්වෙනි ක්‍රමය තමයි එයා සංවට්ඨ විවට්ඨ කල්ප දහයක් නෙවෙයි එයා තිහක් හතළිහක් විතර දකිනවා. තවත් එහාට දකිනවා. දැකලා එයත් අවසානෙට එනවා මම කියලා එක්කෙනෙක් ඉන්නවා. ඊළඟට ලෝකයක් කියලා එකක් තියෙනවා. දැන් ඒකනෙ දැන් මැරුනට, දැන් වැඩිය ඕන නෑ පින්වතුනි මිනිස්සු මැරෙනවා උපදිනවා අපිට පේනවානෙ. දැන් අපි කියමු ඉස්පිරිතාලෙ ඩොක්ටර් කෙනෙකුටම මැරෙන අයත් පේනවා, මේ ඔපරේෂන් රූම් එකෙන් ළමයෙක් සීසර් කරලා එනකොට දොස්තරට පේනවා ඊළඟ ඇඳේ තව ලෙඩෙක් මැරෙනවා. ඉපදෙනවා පේනවා මැරෙනවා පේනවා, ලෙඩවෙනවා පේනවා. නමුත් අනිත්‍යය තේරෙනවාද, නෑ නිත්‍යයි කියන සංඥාවෙමයි ඉන්නෙ. ඒ වාගේ තමයි පෙර ජීවිත බලනකොට මැරෙනවා උපදිනවා පෙනුනට ලෝකය ඇතිවෙනවා නැතිවෙනවා පෙනුනට මෙයාට තේරෙන්නෙ ඇත කියන එකමයි. කොහොමහරි තියෙනවානෙ මේක කියලා. ඔය දොස්තර කෙනෙක්ගෙම සංඥාව ගන්නකො. පෙනුනා කියලා අනිත්‍යය වැටහෙනවාද කියලා. ඒ නිසා තමයි අසිත තාපසතුමාට වුනත් බලන්න පුලුවන් කියනවානෙ කල්ප හතලිහක් ආපස්සට බලන්න පුලුවන්, කල්ප හතළිහක් ඉස්සරහට බලන්න පුලුවන් කියනවානෙ. ඒකනෙ පුංචි සිදුහත් කුමාරයා දැක්ක ගමන් අඬන්නෙ, මට

බුදුවෙනවා දකින්න බෑ කියලා. ඇයි එයාට එහෙම පේනවා නම් අනිත්‍යය පේන්නැත්තෙ. ඒ කියන්නෙ පෙනුනා කියන පමණින් මේ අනිත්‍ය දුක්ඛ අනාත්ම අවබෝධ වෙන් නෑ. ඒක එක්තරා සමාධියෙන් ලබන ඥාණයක්, පුබ්බේනිවාසානුස්මෘති ඥාණය. ඉතින් කියනවා එයා ආපස්සට බලලා ආපහු සංවට්ඨ විවට්ඨ කල්ප හතළිහක් බලලත් ආපස්සට එයත් අවසානෙට එන්නෙ ලෝකයක් ඇත, මම කියලා කෙනෙක් ඇත. සාස්වත දෘෂ්ටියක්. ඉතින් මේ ලෝකයේ සාස්වත දෘෂ්ටිය ඇතිවන්නේ මෙහෙමනේ කියලා බුදුරජාණන් වහන්සේ තමයි අපිට දේශනා කළේ. මේ වාගේ දෘෂ්ටි ඇතිවෙන විදිය විග්‍රහ කරන්න කෙනෙක් නම් ආයෙ බුදුරජාණන් වහන්සේ හැර තවත් කෙනෙක් නම් නෑ. ඊළඟට කියනවා ස්වාමීනී පෙර භවයන්හි ජීවිත ගත කළ අයුරු දක්නා නුවණ පිළිබඳව ඒ කියන්නෙ පුබ්බේනිවාසානුස්මෘති ඥාණය, බුදුරජාණන් වහන්සේ තමයි මනාව විග්‍රහ කරලා දුන්නෙ මේක. ඒ තරම් ආයෙ උත්තරීතර විග්‍රහයක් කරපු කෙනෙක් නෑ, මෙහිලා ඇතැම් ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ නුවණ යොදවලා වීරිය කරලා සමාධියක් උපදවාගෙන ගොඩාක් පෙර ජීවිත බලනවා, ජීවිත ලක්ෂ ගාණක්. සංවට්ඨ විවට්ඨ කල්ප බලනවා. බලලා හොඳට බල බලා තේරුම් ගන්නවා. පෙර ජීවිත සිහි කරනවා. ස්වාමීනී බොහෝ ආයුෂ ඇති දෙවිවරු සිටිති. ඔවුන්ගේ ආයු ප්‍රමාණය ගණනින් හෝ සංඛ්‍යාවකින් හෝ පැවසිය නොහැකි තරම්ය. නමුත් ඒ ආත්ම භාවයන්හි උපත්විරූ බවක් ඇත්ද, ඉදින් රූපීභවයන් වේවා, ඉදින් අරූපී භවයන් වේවා ඉදින් සංඥී භවයන් වේවා, ඉදින් අසංඥී භවයන් වේවා, ඉදින් නෙවසංඥීනාසඤ්ඤී භවයන් වේවා මෙසේ කරුණු සහිතව සවිස්තරව නොයෙක් අයුරු ඇති පෙර විසූ කඳපිළිවෙල සිහි කරන්නේ වේ. ස්වාමීනී පෙරවිසූ ජීවිත පිළිබඳ සිහි කිරීමේ ඥාණය පිළිබඳව මෙය අනුත්තරීය ධර්මයකි. මෙන්න මේක විශේෂ දෙයක් පින්වතුනි. ඒ කියන්නෙ සමහර අයට පෙර ජීවිත බලනකොට එයා කලින් ජීවිතේක ඉපදිලා තියෙන්නෙ අරූප ලෝකෙක නම් ඒ අරූප ලෝකෙ කියන්නෙ නින්ද ගියා වගේ. දැන් අපි නින්ද ගිහිල්ලා අපිට ලෝකෙ ගැන තේරෙන්නෙ ඇහැරිච්ච ගමන්නෙ. ඒ වගේ අරූප ලෝකෙ අසංඥී ලෝකෙ ඉපදුනොත් එහෙම සංඥාව ඉපදිච්ච ගමන් තමයි එයා මනුස්ස ලෝකෙ උපදින්නෙ. එතකොට එයා ධ්‍යාන වශයෙන් භාවනා වශයෙන් පෙර ජීවිත බලනකොට අර සංඥාව ඉපදිච්ච තැන පේනවා, අර අරූප විදියට හිටපු එක පේන් නෑ, එතකොට එයාලා දෘෂ්ටි විදියට එනවා, මං කලින් හිටියෙ නෑ, දැන් තමයි මම ඕපපාතිකව නැත්නම් මං මේ ජීවිතේ ඉබේ හටගත්තා කියලා. ඉබේ

හටගත්තා කියලා, ඕකට කියනවා අධිච්චසමුප්පන්න දෘෂ්ටිය කියලා. එහෙම එනවා. නමුත් මේ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයා පෙර ජීවිත බලද්දි අරූප ලෝකත් බලනවා. ඒ කියන්නෙ කල්ප පින්වතුනි පන්සීයක් අරූප බ්‍රහ්ම ලෝක වල ඉන්නවා, අසංඥ ලෝකෙ. ඊටපස්සෙ තව අරූප බ්‍රහ්ම ලෝකෙ අපි කියමුකො ආකාසානඤ්චායතන ලෝකෙ කල්ප දහදාහයි. විඤ්ඤාණඤ්චායතන ලෝකෙ කල්ප විසිදාහයි. ආකිඤ්චඤ්ඤායතන ලෝකෙ කල්ප හතළිස්දාහයි. නෙවසඤ්ඤානාසඤ්ඤා ලෝකෙ කල්ප අසූදාහයි. ඒවත් බලනවානෙ. අරූප ලෝකවල හිටපු ඒවත් මං මෙච්චර කාලයක් අරූප බ්‍රහ්ම ලෝකෙ හිටියා කියලත් බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයාට පෙර ජීවිත බලන්න පුලුවන්. ඉතින් මෙතන කියනවා සමහර, දැන් බක බ්‍රහ්මයා ගත්තොත් තමන්ගේ ජීවිතේම තමන් ඉපදිලා ගතකරපු අවුරුදු ගාණ දන්නෑ එච්චර දීර්ඝායුෂ. එතකොට දෙවිවරු බ්‍රහ්මයො පවා දීර්ඝායුෂ වුනාට පස්සෙ තමන් ඉපදිච්චි අවුරුදු ගාණවත් දන්නැති ලෝකෙ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයා දීර්ඝ කල්ප ගණන් ආයුෂ තියෙන අරූප ලෝක වල දීර්ඝ දිව්‍යායුෂ ඒ සියල්ලම දිවැසින් දකිනවා. මේ විදියට පෙර ජීවිත බැලීමේ ඥාණයක් බුදුරජාණන් වහන්සේ දේශනා කලා කියලා යමක් ඇත්ද, මේ තරම් නම් විග්‍රහ කරපු වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් නෑ. එතකොට තේරෙනවා වෙනත් ශ්‍රාවකයන්ට, වෙනත් ආගම්වල ශ්‍රාවකයන්ට පෙර ජීවිත දැකීමේ ඥාණයක් සීමා සහිතයි. එතකොට බුදුරජාණන් වහන්සේ ගැන දේශනා කරනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස අපිට චුතිය උපත ගැන දකින නුවණ ගැන මනාව දේශනා කලේ භාග්‍යවතුන් වහන්සේ. භාග්‍යවතුන් වහන්සේ යම් ආකාරයකින් ධර්මයක් දේශනා කරන සේක් නම් ඒක තමයි අනුත්තරීය. එතනින් එහාට නම් නෑ, මෙහි ලා බුදුරජාණන් වහන්සේ වදාළ ශ්‍රමණ බ්‍රාහ්මණයෙක් හෝ යම්කිසි ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හොඳට නුවණින් යුතුව වීර්යයෙන් සමාධිය උපද්දවාගෙන ධ්‍යාන උපද්දවාගෙන ඔන්න චුතිය උපත දකින ඥාණය උපද්දවගන්නවා. ඒ තමයි මේ සත්ත්වයන් කයෙන් වචනයෙන් සිතින් දුෂ්චරිතයේ යෙදිලා ආර්ය උපවාද කරලා, ආර්යයන් වහන්සේලාට ගරහලා, මිත්‍යා දෘෂ්ටික වෙලා, මිත්‍යා දෘෂ්ටික කර්ම සමාදන් වෙලා දුගතියේ උපදිනවා. ඊළඟට සිතින් කයෙන් වචනයෙන් සුචරිතයේ යෙදිලා ආර්යයන් වහන්සේලාට උපවාද කරන්නැතිව ඉඳලා, සම්මා දිට්ඨියෙන් ඉඳලා සම්මා දිට්ඨික කර්ම සමාදන් වෙලා සුගතියේ උපදිනවා. මේ විදියට සත්ත්වයා කය බිඳිලා මරණින් මත්තෙ හීන, ප්‍රණීත, සුගති, දුගති වල උපදින හැටි දකිනවා, දියුණු කරපු

සමාධියෙන්. මෙන්න මේකට කියනවා චුතූපපාත ඤාණය. ඒ වගේම බුදුරජාණන් වහන්සේ මිනිස් ඇස ඉක්මවා ගිය පිරිසිදු දිවැසින් චුත වෙන උපදින සතුන් දකින්නේ වේද, උසස් පහත්, සුරූපී විරූපී, සුගති දුගති වල කර්මානුරූපව සත්ත්වයන් ඉපෙදන හැටි දේශනා කරලා ඒවා බලන හැටි, ඒ ඤාණය උපද්දවගන්න හැටි අපට විග්‍රහ කරලා දේශනා කලා. එතකොට මේ විදියේ විග්‍රහයක් කරපු, මේ විදියේ අවබෝධයක් තියෙන වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් නම් ලෝකෙ කොහෙවත් නෑ. තවද ස්වාමීනී, බුදුරජාණන් වහන්සේ ඍද්ධි ගැන කියලා දුන්නා. ඒ ඍද්ධි ගැන බුදුරජාණන් වහන්සේ දේශනා කරපු තරම් ආයෙ දේශනා කරපු කෙනෙකුත් නෑ. බුදුරජාණන් වහන්සේ දේශනා කලා ඍද්ධි තියෙනවා මේ විදියට. ඍද්ධි ප්‍රාතිහාර්ය දෙකක්. එකක් තමයි ආශ්‍රව සහිත වූ කෙලෙස් සහිත වූ අනාර්යය යැයි කියනු ලබන ඍද්ධියක් තියෙනවා. ඒ කියන්නෙ මේ ඍද්ධිය රහත් නොවිච්ච අයටත් ලබාගන්න පුලුවන්. තව ඍද්ධියක් තියෙනවා ආශ්‍රව රහිත වූ, කෙලෙස් රහිත වූ ආර්යය යැයි කියනු ලබන ඍද්ධියක්. ඍද්ධි දෙකක් තියෙනවා. එකක් ඒක කෙලෙස් තියෙන අයටත් ලබාගන්න පුලුවන්. අනෙක් ඍද්ධිය බෑ. ඒක රහතන් වහන්සේලාට විතරයි. බුදුරජාණන් වහන්සේ තමයි මේවා විග්‍රහ කලේ. මොකක්ද ඒ, ඒ තමයි දැන් අපි අහලා තියෙන ඍද්ධිය. අර එක්කෙනෙක් වෙලා ඉඳලා දාහක් වෙනවා. දාහක් වෙලා ඉඳලා එක්කෙනෙක් එනවා. අහසේ සක්මන් කරනවා. වතුරෙ සක්මන් කරනවා, පොළොවෙ ගිලෙනවා, ඉරහඳ අතගානවා. අකනිටා බ්‍රහ්මලෝකය දක්වා වසඟයේ පවත්වනවා. ඉතින් පර්වත හරහා එහෙ මෙහෙ විනිවිද යනවා. දියමතුපිට සක්මන් කරනවා, කුරුල්ලෙක් වගේ අහසෙ යනවා. පෙනෙන්න නොපෙනෙන්න ඉන්නවා. මේවා කෙලෙස් සහිත අයටත් ලබාගන්න පුලුවන්. කෙලෙස් සහිත අයටත් ලබාගන්න පුලුවන් ඍද්ධිය ඕක. රහතන් වහන්සේලාට විතරක් ලබාගන්න පුලුවන් ඍද්ධිය මොකක්ද? ඒ තමයි, මෙහිලා භික්ෂුව පිළිකුල් දේ නොපිළිකුල් සංඥාවෙන් වාසය කරනවා. පිළිකුල්, ඒකට නොපිළිකුල් සංඥාවෙන් ඉන්න පුලුවන්නෙ රහතන් වහන්සේලාට විතරයි, ඒක ඍද්ධියක්. නොපිළිකුල් සංඥාවෙන් වාසය කරනවා. ඉතින් නොපිළිකුල් දෙයෙහි පිළිකුල් සංඥාවෙන් වාසය කරන්න කැමැති නම් ඒක පිළිකුල් සංඥාවෙන් වාසය කරනවා. ඉතින් නොපිළිකුල් දෙයෙහි, පිළිකුල් නැති දේ ගැන පිළිකුලත්, නොපිළිකුලත් කියන සංඥාවෙන් වාසය කරන්න කැමැති නම් ඒ විදියට වාසය කරනවා. ඉදින් නොපිළිකුල් දෙයෙහි පිළිකුල් සංඥාවෙන් වාසය කරන්න කැමැති නම් ඒත් වාසය කරනවා.

මේ විදියට නොපිළිකුල් දෙය, පිළිකුල් නැති දේ පිළිබඳව පිළිකුලත්, පිළිකුල් නැති දේ අත්හැරලා නුවණින් යුතුව උපෙක්ෂාවෙන් වාසය කරන්න කැමැති නම් ඒ උපෙක්ෂාවෙන් යුතුව වාසය කරනවා, මේක තමයි ආර්යයන් වහන්සේලොගේ ආර්ය ඍද්ධිය කියන්නෙ. ඒ කියන්නෙ දැන් අපි හිතමුකො මහා කාශ්‍යප මහරහතන් වහන්සේගේ පාත්‍රයට ලාදුරු රෝගියෙක්ගේ ඇඟිල්ල වැටුනානෙ. එතකොට ඒක කියනකොටත්, අහන අයටත් පිළිකුල් වාගේනෙ. එතකොට එයින් අර එහෙම එකක් රහතන් වහන්සේට ඇතිවෙන් නෑ. උන්වහන්සේට ඍද්ධියක් තියෙනවා. ඒ තමයි ඒ පිළිකුල් දේ පිළිබඳව පිළිකුල් නැති හැඟීම උපද්දවනවා. ඊටපස්සෙ ඒක අරන් තියලා උන්වහන්සේ දානෙ වළඳනවා. ඒක වෙන්නෙ ඍද්ධියකින්. එතකොට පිළිකුල් දේ පිළිබඳව පිළිකුල් වශයෙනුත්, පිළිකුල් නැති වශයෙනුත් ඕන විදියකට බලන්න පුලුවන්. පිළිකුල් නැති දේ විදියට නැති දේ දිහා පිළිකුල් විදියටත් නැති විදියටත් ඕන විදියකට බලන්න පුලුවන්. උපෙක්ෂාවෙන් වාසය කරන්නත් පුලුවන්. ඒක තමයි ආර්ය ඍද්ධිය. ඉතින් මේවා ගැන බුදුරජාණන් වහන්සේ හැර නම් දේශනා කරපු තවත් කෙනෙක් නෑ කියනවා. බුදුරජාණන් වහන්සේම අනුත්තරයි කියනවා. ඊටපස්සෙ වෙනත් කිසිම ශ්‍රමණ බ්‍රාහ්මණයෙකුට මෙවැනි අවබෝධයක් නෑ කියනවා. බුදුරජාණන් වහන්සේ ගැන කියනවා, ස්වාමීනී සැදැහැවත් කුල පුත්‍රයෙකු විසින් අරඹන ලද වීර්යයකින්, බලවත් වීර්යයකින්, පුරුෂ වීර්යයකින්, පුරුෂ පරාක්‍රමයකින්, වගකීම් දරණ පුරුෂයෙකු විසින් ලැබිය යුතු යමක් ඇත්ද, එය භාග්‍යවතුවන් වහන්සේ අත්පත් කරගන්නා ලද්දේය. මේ ලෝකයේ වීර්යයෙන්, බල පරාක්‍රමයෙන්, ඊටපස්සෙ උත්තම පුරුෂයෙක් ලබාගන්න ඕන සියල්ල බුදුරජාණන් වහන්සේ ලැබුවා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ හීන වූ, ග්‍රාම්‍ය වූ, පෘථග්ජනයන්ට හිමි වූ අනාර්ය වූ, අනර්ථයෙන් යුතු කාමයන් පිළිබඳව, කාමසුඛයේ ඇලී ගැලී වාසය කිරීමක් ඇත් ද එහි නොයෙදෙන සේක. බුදුරජාණන් වහන්සේ කාමසැපයේ වාසය කරන්නෑ. ඊළඟට භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ දුක් වූ, අනාර්ය වූ, අනර්ථ වූ, තම ශරීරයට අතිශයින් දුක්පීඩාවන් ගෙන දෙන, අත්ථකිලමතානුයෝගයේ යෙදෙන්නෙත් නෑ. භාග්‍යවතුන් වහන්සේ උසස් චිත්ත දියුණුවකින් හෙබි මෙලොවදීම සැප විහරණ ඇති සතරක් වූ ධ්‍යානයන් කැමැති සේ ලබන සේක, පහසුවෙන් ලබන සේක, මහත් සේ ලබන සේක. භාග්‍යවතුන් වහන්සේ අන්ත දෙකෙන් බැහැර වෙලා කැමැති විදියට සමාධි අත්ථකිලමතානුයෝගයකින් දුක විඳින්නෙත් නෑ. කාමසුඛල්ලිකානුයෝගය කියන ඒ කාම සැපය විඳින්නෙත් නෑ. ධ්‍යාන සැප

විඳිනවා. බුදුරජාණන් වහන්සේ ධ්‍යාන සැප විඳිනවා. ඉතින් ස්වාමීනී මාගෙන් මෙසේ කවුරුහරි ප්‍රශ්න කරනවා නම් කිම ඇවැත් සාරිපුත්‍රයිනි, සම්බුද්ධත්වය පිළිබඳව භාග්‍යවතුන් වහන්සේට වඩා වැඩී ගිය ඥාණයක් ඇති අන්‍ය වූ ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ අතීතයේ සිටියේ ද? කවුරුහරි ඇහුවොත් මේ බුදුරජාණන් වහන්සේගේ තියෙන අවබෝධයට වැඩිපුර අවබෝධයක් තියෙන කෙනෙක් අතීතයේ හිටියද කියලා ඇහුවොත් එහෙම මගෙන්, මං දෙන උත්තරය තමයි, නොසිටියේය. හිටියෙ නෑ. ඊටපස්සෙ කවුරුහරි මගෙන් ඇහුවොත් සාරිපුත්‍රයෙනි, සම්බුද්ධත්වය පිළිබඳව භාග්‍යවතුන් වහන්සේට වැඩිපුර ඥාණයක් තියෙන අන්‍ය වූ ශ්‍රමණ බ්‍රාහ්මණයෙක් අනාගතයේ පහළ වෙනවාද? කියලා මගෙන් ඇහුවොත් මං දෙන උත්තරේ තමයි නැත. කවුරුහරි මගෙන් ඇහුවොත් සාරිපුත්‍රයෙනි, සම්බුද්ධත්වය පිළිබඳව භාග්‍යවතුන් වහන්සේට වඩා වැඩීගිය ඥාණයක් ඇති අන්‍ය වූ ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ මෙකල්හි සිටිනවාද කියලා මගෙන් ඇහුවොත්, නැත. ඊළඟට මගෙන් ඇහුවොත් එහෙම කිම ඇවැත් සාරිපුත්‍රයෙනි, සම්බුද්ධත්වය පිළිබඳව භාග්‍යවතුන් වහන්සේ හා සම සමව ගිය ඥාණයක් ඇති අන්‍ය වූ ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ අතීතයේ සිටියේ ද? කියලා මගෙන් ඇහුවොත් මම කියනවා එසේය, උන්වහන්සේ හා සමසමව ගිය ඥාණයක් ඇති අන්‍ය වූ ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙකු අතීතයේ සිටියේද කියලා මගෙන් ඇහුවොත් මම කියනවා එසේය. කවුද? අතීතයේ සම්බුදුවරු. මොකද අතීතයේ සම්බුදුවරු, දැන් අපි කිව්වොත් එහෙම අපේ බුදුරජාණන් වහන්සේට වඩා වැඩි ඥාණයක් තියෙන කෙනෙක් අතීතයේ හිටියේ නෑ කියලා කියන්නෙ බුදුරජාණන් වහන්සේලාගේ අවබෝධය සමානයිනෙ. වැඩියෙන් තිබ්බා කියලා එකක් නෑනෙ. ඒකයි මේ. සම සමව ගිය ඥාණයක් තියෙනවා. ඊටපස්සෙ ඇහවොත් ඇවැත් සාරිපුත්‍රයෙනි, සම්බුද්ධත්වය පිළිබඳව භාග්‍යවතුන් වහන්සේ හා සම සමව ගිය ඥාණයක් ඇති අන්‍ය වූ ශ්‍රමණ බ්‍රාහ්මණයෙක් අනාගතයේ පහළ වන්නේ ද? සමාන ඥාණයක් තියෙන කෙනෙක් තව අනාගතේ පහළ වෙනවා, කවුද ඒ? මෛත්‍රී බුදුරජාණන් වහන්සේ. ඊටපස්සෙ කිම සාරිපුත්‍රයෙනි, සම්බුද්ධත්වය පිළිබඳව භාග්‍යවතුන් වහන්සේ හා සමසමව ගිය ඥාණයක් තියෙන කෙනෙක් දැන් ඉන්නවාද කියලා ඇහුවා, උත්තරේ තමයි නැත. දැන් කවුද ඉන්නෙ, එක බුදු කෙනයි. ඉතින් ස්වාමීනී මගෙන් මෙසේ ප්‍රශ්න කරයි නම්, කිම සාරිපුත්‍රයෙනි, එසේය කියමින් ඇතැම් ශ්‍රමණ බ්‍රාහ්මණයන් හා භාග්‍යවතුන් වහන්සේ හා සම සමව ගිය

සම්බුද්ධත්වය පිළිගත්තේය. ඇතැම් ශ්‍රමණ බමුණන් පිළිබඳව මෙකල්හි නැතැයි පිළිගත්තේය. ස්වාමීනී මෙසේ ඇසූ කල්හි මම මෙසේ පිළිතුරු දෙමි. ඉතින් කිව්වා අහනවා කෙනෙක් සාරිපුත්‍රයෙනි සම සමව ගිය අය අතීතයෙත් අනාගතයේ ඉන්නවා කියලා පිළිගත්තා, වර්තමානයේ ඉන්නවා කියලා පිළිගත්තෙ නෑ, ඇයි ඒ කියලා. මම මේ විදියට උත්තර දෙනවා. ඇවැත්නි ඔය කරුණ මා විසින් භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ අසන ලද්දේය. ඉදිරියේ පිළිගත්තේය. ඒ තමයි අතීතයේ වැඩ සිටියා වූ අර්හත් වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේලා මා හා සම්බුද්ධත්වයේ සම සමව සිටි සේක. දැක්කට සාරිපුත්‍ර මහරහතන් වහන්සේ බුද්ධ වචනයේ ශ්‍රද්ධාවෙන් මේ බුද්ධ වචනය දරාගෙන ඉන්නහැටි. ඉතින් බුදුකෙනෙක් ගෙන් අහලා තියෙනවා. බුදුරජාණන් වහන්සේම දේශනා කරලා තියෙනවා අනාගතේ පහළ වන්නා වූ අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේලා මා හා සම්බුද්ධත්වයෙන් සම සමව සිටින්නාහ. බුදුවරු අවබෝධයෙන් සමානයි. ඉතින් ඒ නිසා තමයි කියනවා මං එහෙම දේශනා කළේ ඔය. ඊටපස්සෙ තව කෙනෙක් ඇහුවොත් එහෙම එක් ලෝක ධාතුවක, කියනවා ඒ අහන අයට, ඇවැත්නි එක් ලෝක ධාතුවක පෙරපසු නොවී අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේලා දෙනමක් පහළ වන්නාහ, යන කරුණ සිදුනොවෙන දෙයකි. එබන්දකට අවකාශද නැත්තේය. මෙකරුණ දකින්න නොලැබෙන අදහසින් මා විසින් භාග්‍යවතුන් වහන්සේ ඉදිරිපිට මේ අදහස පිළිගත්තා. ඒ නිසා තමයි, ඒ කියන්නෙ එක ලෝක ධාතුවක බුදුවරු දෙනමක් පහළ වෙන්නෙ නෑ. ඒ නිසයි මම ඔබ අහපු ප්‍රශ්නයට පිළිතුරු දුන්නෙ මේ යුගයේ බුදුරජාණන් වහන්සේට සම සමව ඉන්න තවත් ඥාණයක් තියෙන කෙනෙක් නෑ කියලා. ස්වාමීනී මෙසේ විමසනු ලබන මම ඇතැම් ශ්‍රමණ බ්‍රාහ්මණ කෙනෙක් භාග්‍යවතුන් වහන්සේ හා සම සම බව පිළිගත් කරුණක් මෙකල භාග්‍යවතුන් වහන්සේ හා සම සම අන් ශ්‍රමණ බ්‍රාහ්මණයෙකු නැති බවත් යන කරුණු ඔය අයුරින් තේරුම් කරලා විස්තර කරලා දෙනවා. භාග්‍යවතුන් වහන්සේ විසින් පවසන ලද්දක්ම පැවසුවා වෙනවා. භාග්‍යවතුන් වහන්සේ, මං කියනවා ස්වාමීනි මං ඔය විදියට විස්තර කරලා දුන්නොත් භාග්‍යවතුන් වහන්සේ පැවසූ දෙයක්ම නේද මම විස්තර කරලා දෙන්නෙ. භාග්‍යවතුන් වහන්සේට අසත්‍යයෙන් චෝදනා කලේ නෑ නේද. භාග්‍යවතුන් වහන්සේට අනුකූල දෙයක් නේද කිව්වෙ, ධර්මයට අනුකූල දෙයක් නේද, ඊළඟට කරුණු සහිතව ඉදිරියට කරන ප්‍රකාශයකදී ගැරහීමකට පත්නොවෙන දෙයක් නේද මං ඔය විදියට විස්තර කලොත් වෙන්නෙ. බුදුරජාණන් වහන්සේ ඒ

වෙලාවේ දේශනා කරනවා, සාරිපුත්‍ර ඒකාන්තයෙන්ම ඔබෙන් මෙසේ විමසන කල මෙසේ පිළිතුරු දෙන්නෙහි නම් මා විසින් පැවසූ දෙයක්මයි ඔබ ඔය කිව්වෙ. ධර්මයට අනුකූළ දෙයක්මයි. කාගෙන්වත් චෝදනා නොලබන දෙයක්මයි. කාගෙන්වත් ගැරහුමක් නොලබන දෙයක්මයි ඔබ කිව්වේ කියලා බුදුරජාණන් වහන්සේ අනුමත කරනවා සාරිපුත්ත මහරහතන් වහන්සේ ගැන. එතකොට ආයුෂ්මත් උදායී හාමුදුරුවෝ ළඟ හිටියා. උදායී හාමුදුරුවෝ කියනවා අච්චරියං භන්තේ, අද්භූතං භන්තේ. ස්වාමීනී ආශ්චර්‍යයීයි, ස්වාමීනී අද්භූතයි. තථාගතයන් වහන්සේගේ අල්පේච්ඡතාවය. ලද දෙයින් සතුටු වීම, කෙලෙස් සිඳ දමා ඇති බව අසිරිමත්. මේ සා මහත් ඍද්ධිමත් වූ මේ සා මහානුභාවසම්පන්න තථාගතයන් වහන්සේ තමා වහන්සේ තුළ ඇති මේ ආනුභාවයන් හෙළිනොකර, හෙළිනොකොට වැඩ සිටි සේක. මෙච්චර ආනුභාවයක්, මෙච්චර අවබෝධයක්, මෙච්චර උතුම් බවක් බුදු කෙනෙක්ගේ තිබිලා බුදුරජාණන් වහන්සේ ඒවා තවත් කෙනෙකුට ප්‍රකට කරන්නැතිවම වාසය කරනවා. පුදුම සහගතයි. මේ සාරිපුත්තයන් කරුණු ගොනු කරලා කියනකොට තමයි පොඩ්ඩක් හරි වැටහුනේ කිව්වා. පුදුම සහගතයි. ස්වාමීනී අන්‍ය තීර්ථක පරිබ්‍රාජකයන් නම් මේ වාගේ ධර්මයන් ගොඩක් ඕන නෑ, එකක් දෙකක් තිබ්බා නම් බැනර් ගහගෙන යන්නෙ. ධජ පතාක ගහගෙන, මේ යන්නෙ. භාග්‍යවතුන් වහන්සේගේ සකල ගුණ සමුදාය එක්කෙනෙක් ළඟ තිබිලත් බුදුරජාණන් වහන්සේ ප්‍රකට කරන්නැතිව ඉන්නවානෙ. පුදුම සහගතයි බුදු කෙනෙක්ගේ අල්පේච්ඡතාවය. උදායී ඔබ ඔය කරුණ දැකගන්න. තථාගතයන් වහන්සේගේ අල්පේච්ඡතාවය. ලද දෙයින් සතුටු වීම හා කෙලෙස් සිඳ දමා ඇති බවයි. තමන් තුළ ඇති මේ සා මහත් ඍද්ධිමත් බව, මේ සා ආනුභාවසම්පන්න බව තථාගත තෙමේ ප්‍රකට නොකරන්නේය. කොච්චර ආනුභාවයක් බුදුකෙනෙක් ළඟ තිබ්බත් ප්‍රකට කරන්නෙ නෑ. උදායී අන්‍ය තීර්ථක පරිබ්‍රාජකයො මේ වාගේ එකක් හරි තිබ්බොත් එහෙම ධජ පතාක බැනර් ගහගෙන යන බව හැබෑව. නමුත් තථාගතයන් වහන්සේලා තමාගේ ගුණ ඔය විදියට ප්‍රකට කරන් නෑ. තව පින්වතුනි බුදු කෙනෙක් නොකියූ බුදුරජාණන් වහන්සේගේ ඇතුලෙ ගුණ කඳ කොහොම ඇතිද, අපිත් මේ කියපු දේවල්නෙ ඉගෙන ගන්නෙ. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ සාරිපුත්තයන් වහන්සේ ඇමතුවා. සාරිපුත්‍රයිනි, එසේ වී නම් ඔබ මේ ධර්ම ක්‍රමය භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකාවන්ට නිතර පවසන්න. සාරිපුත්‍රයනි, යම් හිස් පුරුෂයෙක් හට තථාගතයන් වහන්සේ පිළිබඳව සැකයක් හෝ විමතියක් හෝ වන්නේ නම් ඔවුන් තුළ තථාගතයන්

වහන්සේ පිළිබඳව ඒ සැකය හෝ විමතිය මේ ධර්ම ක්‍රමය අසා පහවී යනු ඇත. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ ගුණ නිතර නිතර කියන්න කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කලා සාරිපුත්ත මහරහතන් වහන්සේට. එතකොට තමයි අනිත් අයගේ සැකය නැතිවෙන්නෙ. අද කාලෙ බුදුරජාණන් වහන්සේගේ ගුණ කියන්නම ඕන. බුදුරජාණන් වහන්සේ සාරිපුත්ත මහරහතන් වහන්සේට වදාළා ගුණ කියාගෙන යන්න, අනිත් අයගේ සැක නැතිවෙන්න. අද අපිත් කරනවා, අනිත් අයට ශාස්තෘන් වහන්සේ ගැන සැක නැතිවෙන්න. මේක ශාස්තෘන් වහන්සේ විසින් ප්‍රශංසා කරපු දෙයක්. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ ආයුෂ්මත් සාරිපුත්තයන් වහන්සේට මේ විදියට වදාළා. සාරිපුත්‍රයිනි, එසේ වී නම් ඔබ මේ ධර්ම ක්‍රමය භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකාවන්ට නිතර නිතර පවසන්න. සාරිපුත්‍රයිනි යම් හිස් පුරුෂයන් හට තථාගතයන් පිළිබඳව සැකයක් හෝ විමතියක් හෝ වන්නේද ඔවුන් තුළ තථාගතයන් පිළිබඳව ඇතිවූ සැකය හෝ විමතිය මේ ධර්ම ක්‍රමය අසා පහවී යනු ඇත. මේ විදියට බුදුරජාණන් වහන්සේ සාරිපුත්ත මහරහතන් වහන්සේට වදාළා මේ කියපු කාරණා භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකාවන්ට කිය කියා යන්න. මේ  පිරිස අතරේම ඉන්නවා හිස් පුරුෂයෝ. භාග්‍යවතුන් වහන්සේ ළඟම ඉදලා බුදුරජාණන් වහන්සේ හඳුනගන්න බැරිව. එතකොට ඒ ඇත්තන්ට තියෙන සැකය පහවෙලා යයි. බුදුවරු ගැන. ඉතින් ඒ නිසා අද කාලෙ නම් සම්පූර්ණයෙන් ගත්තත් ලෝකෙම හිස් කියලා කිව්වත් ඒත් වැරදි නැති තරමට මිනිසුන්ගේ හිත් ගොඩාක් වෙනස් වෙලා. ශාස්තෘ ගෞරවයෙන් ඈත් වෙලා. ඉතින් ඒ නිසා ඒ ලෝකෙට මේවා කිය කියා යන්න වෙනවා. ඉතින් සාරිපුත්ත මහරහතන් වහන්සේ සංඝයාට මේ දේශනාව කර කර ගියා. එතකොට අපිත් ඒ සාරිපුත්ත මහරහතන් වහන්සේ දේශනා කරපු දේ අපිත් අද කිය කියා යනවා. එතකොට මේ ධර්ම දේශනා, මේවා අහලා යම්කිසි කෙනෙකුට බුදුරජාණන් වහන්සේ නමක් ගැන, ඒ ශාස්තෘන් වහන්සේ ගැන ශාස්තෘ ගෞරවය ඉපදුනොත් ඒක එයාට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා. ඉතින් මේ අයුරින් ආයුෂ්මත් සාරිපුත්තයන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේ ඉදිරිපිටදී තම පැහැදීම දක්වා වදාළ සේක. එහෙයින් මෙම ගාථා සහිත මේ දේශනාව සම්පසාදනීය හෙවත් පැහැදීම් ඇති කරන ධර්ම දේශනාව යන නමින් රහතන් වහන්සේලා සංගායනා කරලා තියෙනවා. ඉතින් ඒ නිසා රහතන් වහන්සේලා මෙසේ ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ ධර්මය භාග්‍යවතුන් වහන්සේගේ ගුණ, භාග්‍යවතුන් වහන්සේගේ තියෙන අසිරිමත්

ආනුභාව ප්‍රකට කෙරෙව්වා. සාරිපුත්ත මහරහතන් වහන්සේ සාරිපුත්ත මහරහතන් වහන්සේගේ ප්‍රඥා මහිමය අනුව මේතාක් බුදුරජාණන් වහන්සේගේ උතුම් බුදුගුණ ප්‍රකට කෙරෙව්වා. ඉතින් ඒ නිසා පින්වත්නි තේරුම් ගන්න ඕන අපි තථාගත බුදුරජාණන් වහන්සේ කියන්නෙ උත්තම ආනුභාව සම්පන්න කෙනෙක් බව. බුදුරජාණන් වහන්සේ අනන්ත ගුණයෙන් අනන්ත ඥාණයෙන් බැබළෙන බව. ඉතින් ඒ නිසා බුදුගුණම ප්‍රකට කරගන්න හදන්න ඕන. හේතුව මේ බුද්ධ ශාසනයේ කෙනෙක්ගේ හිත හිස් නම්, ඒ හිස් බව පුරවන්නේ මේ බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ ගැන ඇතිවෙන පැහැදීමත් එක්ක. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ මේ විදියට, දැන් සභිය සූත්‍රය ගත්තොත් සභිය සූත්‍රයේ බුදුරජාණන් වහන්සේගේ අනන්ත බුදුගුණ විස්තර වෙනවා. සේල සූත්‍රයේ අනන්ත බුදුගුණ විස්තර වෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ ඉදිරියේ රහතන් වහන්සේලා විදියට වංගීෂ මහරහතන් වහන්සේ අනන්ත බුදුගුණ කියලා තියෙනවා. ඉතින් ඒවා වංගීෂ සංයුත්තයේ තියෙනවා. මේ විදියට බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ මහරහතන් වහන්සේලා මහා නුවණැති උත්තමයෝ බුදුගුණ කියමින් වැඩ වාසය කලා. ඉතින් පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ, අපි දැන් ගත්තොත් එහෙම උපාලි මහරහතන් වහන්සේ, උපාලි මහරහතන් වහන්සේ කලින් අපේ බුද්ධ ශාසනයේ මූලිකව ශාක්‍ය කුලයේ හිටපු කරණවැමියෙක්. එතකොට කරණවැමි පවුලක ඇයි මේ උපාලි ස්වාමීන් වහන්සේ ඉපදුනේ. කලින් සංසාරයේ පසේබුදුරජාණන් වහන්සේ නමක් ගමනක් වඩිනකොට, පිණ්ඩපාතේ වඩිනකොට මොහු ඇතා පිටින් ගිහිල්ලා තියෙනවා, රජකුමාරයෙක්. ඊටපස්සෙ අර රාජතේජසින් අර පසේ බුදුරජාණන් වහන්සේට පාරෙ ඉඩදෙන්නැතිව පාර මැදින් ගිහිල්ලා තියෙනවා. පසේ බුදුරජාණන් වහන්සේට තමයි අයින් වෙන්න සිද්ධ වෙලා තියෙන්නෙ. ඉතින් උපනූපන් ජීවිතේ උපදින්නෙ අනිත් අය එනකොට තමං පාර මං අරින කුලයක් තියෙනවා නම් ආන්න ඒ කුලයේ උපදිනවා. එතකොට මේ අවසාන ජීවිතයේ කරණවැමි කුලයේ ඉපදුනා. ඉපදිලා රජතුමාගේ කරණවැමි වැඩේ කරනවා. එතකොට මෙහෙම ඉන්නකොට තමයි අනුප්පිය අඹ වනයේ ආනන්ද, භගු, කිම්බිල, අනුරුද්ධ, උපාලි, දේවදත්ත කියන මේ පස් නම පැවිදි වෙන්නෙ. එතකොට පැවිදි වුනාට පස්සෙ උන්වහන්සේ උපාලි ස්වාමීන් වහන්සේ ගොඩාක් සසර ගැන ධර්මය අහලා ගොඩාක් ධර්මය මෙනෙහි කලා. මෙනෙහි කරලා මෙනෙහි කරලා සසර භය උපද්දවගත්තා. ඉතින් උන්වහන්සේ බුදුරජාණන් වහන්සේ

ඉදිරියේ කියාහිටිනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, යම්කිසි කෙනෙක් රාජදණ්ඩනයට අහුවෙලා උල උඩ තියලා මහත් වූ වේදනා විඳ විඳ ඉන්නකොට ඔහු උලෙන් ගලවන කෙනෙක් දකිනකොට ඔහු බලාපොරොත්තු වෙනවා මාව උලෙන් ගලවනවා නම්, මේ දුකින් නිදහස් කරනවා නම් කියලා. ඒ වගේ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, භව දණ්ඩනයෙන් දඬුවම් ලබලා කර්මය නැමැති උලේ තියලා මං අනේක දුක් විඳ විඳ ඉන්න කෙනෙක්. ස්වාමීනී මම කර්මය නැමැති උලෙන් ගලවලා දාන්න. ඊටපස්සෙ කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස සර්පයෙක් දෂ්ට කලාට පස්සෙ සර්ප විෂෙන් මත්වුනු කෙනා, සර්ප වෙදෙක් හොයාගෙන යනවා තමන්ගේ විෂ අයින් කරන්න. ආන්න ඒ වාගේ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මම සංසාරේ කෙලෙස් විසින් විෂ කාලා භාග්‍යවතුන් වහන්සේ ළඟට ආවෙ, භාග්‍යවතුන් වහන්සේ නැමැති විෂ වෛද්‍යවරයාණන් වහන්සේ ළඟට මං ආවෙ කෙලෙස් විෂ මගෙන් අයින් කරලා දාන්න. ඊළඟට කියනවා ස්වාමීනී භූතාවේෂයකින් ආවේෂ වූ කෙනෙක් යක්දෙස්සෙක් හොයාගෙන, ඇඳුරෙක් හොයාගෙන යනවා මං භූතාවේෂයෙන් අයින් කරලා දාන්න කියලා. ආන්න ඒ වාගේ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස සියලු කෙලෙස් ගිනි නිවන සියලු කෙලෙස් යක්ෂයින් පළවා හරින තථාගත බුදුරජාණන් වහන්සේ හොයාගෙන මං මේ ආවෙ. භාග්‍යවතුන් වහන්ස මාව මේකෙන් නිදහස් කරවන්න. මේ විදියට අනේක උපමාවෙන්, අනේක කාරණාවෙන් බුදුරජාණන් වහන්සේගේ ගුණ කියනවා. ඊටපස්සෙ කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, භාග්‍යවතුන් වහන්සේ මට ධර්මය දේශනා කරන්න. මං අවබෝධ කරන්නම්. බඩගින්නෙන් ඉන්න ගුරුලෙක් නාගයෙක් දැක්කට පස්සෙ ඒ නාගයා ඩැහැගන්නවා වාගේ බුදුරජාණන් වහන්සේ අමාධර්මය දේශනා කරන්න, මං නිවන ඩැහැගන්නම් කීවා. ඉතින් මේ විදියට අනේක ගුණ කියනවා. කියලා ඊටපස්සෙ කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මේ ලෝකෙ පිරිමි සතෙක් නැතිව කෙකිණිය ගැබ් ගන්නවා මේඝ ඝර්ජනාවට, අහසේ විදුලි කොටන හඬට කෙකිණිය ගැබ් ගන්නවා. ඊටපස්සෙ වැස්ස ආවෙ නැත්නම් කෙකිණිය මේඝ ඝර්ජනා කලේ නැත්නම් අවුරුදු දහයක් වුනත් කෙකිණිය ඉන්නවා වදන් නෑ, ඉතින් යම් දවසක ආපහු මේඝ ඝර්ජනාවක් ඇහෙනවාද එදාට තමයි කෙකිණිය වදන්නෙ. අන්න ඒ වගේ මමත් පදුමුත්තර බුදුරජාණන් වහන්සේගේ කාලයේ අමා මහ නිවන පිණිස බීජය පැලලුවා. එතකොට මේ සසරේම බුදුවරුන්ගේ ඇසුරේ මං ඒ නිර්වාණ බීජය මෝර මෝර ඇවිල්ලා මං භාග්‍යවත් ගෞතම බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ එදා මං රෝපණය

කරපු බීජය මං අද බිහි කලා. ඉතින් ඒ නිසා බුදු කෙනෙක්ගේ ශාසනයක කරන දේවල්, බුදු කෙනෙක්ගේ ශාසනයකමයි විපාක දෙන්නෙ. ඉතින් මේ විදියට විස්තර කරලා කියනවා ස්වාමීනී, භාග්‍යවතුන් වහන්ස බුදුරජාණන් වහන්සේ නැමැති හිරු මඬලින් විහිදුණු ධර්මය නැමැති රශ්මි දහරාවෙන් සසරේ පින් පුරාගෙන බුදු කෙනෙක් දකින්න කැමැත්තෙන් ආපු මාගේ ජීවිතය විකසිත වුනා දැන්. මට මේ ධර්මය අවබෝධ වුනා. ස්වාමීනී චිත්‍රලතා වනයේ තියෙන ආසාවතී කියන වැලේ මලක් පිපෙනකල් දෙවිවරු බලාගෙන ඉන්නවා. ඒ මලට වැඳ වැඳ පුද පුදා. ආන්න ඒ වගේ මමත් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මේ සංසාරයේ මෙච්චර කාලයක්, කල්ප ලක්ෂයක් මං ආව භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ හොයාගෙන. ඉතින් බුදුරජාණන් වහන්සේ දැන් මට ලැබුනා. මං දැන් බුදුරජාණන් වහන්සේ අතහැර යන්නෙ නෑ. මං බුදුරජාණන් වහන්සේගේ සරණේම සැනසෙනවා කියලා බුදුරජාණන් වහන්සේගේ සිරිපා කමල් වඳිමින් පිහිට සළස්වා ගන්නවා. ඉතින් මේ විදියට, ඊටපස්සෙ ගොඩාක් බුදුගුණ කියනවා. බුදුරජාණන් වහන්සේගෙ ශාසනයේ. ඊළඟට අපි දැන් ගත්තොත් එහෙම මේ මහරහතන් වහන්සේලා බුදුරජාණන් වහන්සේ ළඟ සරණ ගැන කියපු කතා. ඊළඟට තියෙනවා බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ සුගන්ධ කියලා ථෙරාපදානයක්. ඒක හරි ප්‍රකට ථෙරාපදානයක්. හේතුව බුදුගුණ කියපු නිසා සංසාරයේ අප්‍රමාණ සැප සම්පත් විඳලා අපේ ගෞතම බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වෙච්ච උත්තමයන් වහන්සේ නමක් ගැන තියෙන්නෙ ඒකෙ. එතකොට ඒ බුදුරජාණන් වහන්සේගේ ඒ අනන්ත බුදුගුණයට, බුදුනුවණට ගාථා වලින් ප්‍රශංසා කරනවා, මීට කලින් බුද්ධ ශාසනයක. ඒ පින් බලයෙන් මේ අපේ බුද්ධ ශාසනයේ අර්හත්වයට පත්වෙනවා. අර්හත්වයට පත්වෙනවා. ඉතින් ඒ නිසා පින්වතුනි ශාස්තෘන් වහන්සේ තමන් සරණ ගිය ශාස්තෘන් වහන්සේ ගැන අනේක විදියට තමන් තේරුම් ගන්න ඕන. ඒ වගේම අනේක විදියට ශ්‍රවණය කරන්න ඕන. අනේක විදියට ගුණ සිහි කරන්න ඕන. එතකොට තමයි බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පිහිටක් පිළිසරණක් කියන එක අපිට ලබන්න පුලුවන් වෙන්නෙ. ඉතින් ඒ නිසා මේ සූත්‍ර දේශනාවේ සාරිපුත්ත මහරහතන් වහන්සේ බුදුරජාණන් වහන්සේගේ අපි නොහිතන විදියේ බුදුගුණ ටිකක් ප්‍රකට කළේ. විශේෂයෙන් ගත්තොත් එහෙම මේ මුළු නිවන් මාර්ගයම, මේ මුළු ශාසනයේම තියෙන්නෙ බුදුරජාණන් වහන්සේගේ අනන්ත වූ බුදුගුණ මත. ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේ තමයි මේ සියල්ලම අවබෝධ කළේ. ඒ බුදුරජාණන් වහන්සේගේ අනන්ත බුදුගුණ මේ විදියට මහරහතන්

වහන්සේලො පවා වර්ණනා කලානේ කියලා අප්‍රමාණ සන්තෝෂයට පත්වෙන්න ඕන. ඉතින් ඒ වාගේම ඒ බුදුගුණ සිහි කරන්න ඕන. ඒ බුදුරජාණන් වහන්සේගේ අනන්ත බුදුගුණ කඳ සිහි කරනකොට සිහි කරනකොට හිතේ තියෙනවා නම් යම්කිසි ක්ලේශයෝ ඒ කලේශයෝ සංසිඳී සංසිඳී යනවා. රහතන් වහන්සේලා පවා වර්ණනා කලා නම් සාමාන්‍යයෙන් ගිහි ජීවිතයේ ඉන්න මිනිස්සු බුදුරජාණන් වහන්සේගේ අනන්ත බුදුගුණ කඳ නොකියන්නේ මන්ද, ශ්‍රවණය නොකරන්නේ මන්ද. පින්වතුනි දැන් සාමාන්‍යයෙන් ගත්තොත් එහෙම මේ ධර්මයෙන් ඇතිවෙන ශ්‍රද්ධාව මේ ධර්මය අහලා, ඒ ශ්‍රද්ධාවට කියනවා උදක ප්‍රසාදනී මාණික්‍යය කියලා. බොරවෙලා තියෙන වතුර ටිකකට උදක ප්‍රසාදනී මාණික්‍යය දැම්මට පස්සෙ ඒක සංසිඳී සංසිඳී සංසිඳී යනවා. ආන්න ඒ වගේ පින්වත්නි, බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ මේ තියෙන ශ්‍රද්ධාව, මේ ශ්‍රද්ධාව අපේ හිතේ වැඩිකරගන්න, වැඩිකරගන්න බුදුගුණ වැඩිපුර හිතන්න හිතන්න හිතේ තියෙනවා නම් පින්වතුනි යම් අර ක්ලේශයෝ, ඒ ක්ලේශයෝ ඔක්කොම සංසිඳී සංසිඳී යනවා. එතකොට හිත පිරිසිදු වෙනවා. හිත පිරිසිදු වෙනකොට හිත සමාධිමත් කරගන්න ලේසියි. මාර්ගය වඩන්න ලේසියි. එතකොට මේකෙන් කලේ සංසිදෙන එකනෙ. කෙලෙස් නැත්තටම නැතිවුන් නෑ, සංසිඳුනා. එතකොට අර උපද්දවන ප්‍රඥාවෙන් ඒ කෙලෙස් ටික ඔක්කොම නසලා දානවා. ඉතින් ඒ නිසා මේක මාර්ග අංගයක් කියන කාරණාව හොඳට තේරුම් ගන්න ඕන. ඉතින් සාරිපුත්ත මහරහතන් වහන්සේ මේ විදියට බුදුරජාණන් වහන්සේගේ අනන්ත ප්‍රඥා ස්කන්ධය ඉස්මතු කොට ඉස්මතු කොට දේශනා කරපු මේ දේශනාව අහලා සාරිපුත්ත මහරහතන් වහන්සේට වදාළා, මේක භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකාවන්ට කිය කියා යන්න කියලා. එතකොට දැන් මේ දේශනාත් අහලා, දැන් ඔය විදියට බලනකොට මෙච්චර බුදුගුණ දේශනාත් අහලා මේ බුද්ධ ශාසනයේ ශ්‍රද්ධා දී ධර්ම වලට එන්න බැරි නම් ඒක නම් මහා අභාග්‍යයක්. ඒක ජීවිතේ විශාල හිස් බවක්. ඉතින් ඒ නිසා ඒ කරුණු කාරණා තේරුම් ගන්න. අනන්ත බුදුරජාණන් වහන්සේගේ අනන්ත සම්බුදු ගුණයන්ගේ ආනුභාව බලයෙන් ඔබ සියලු දෙනාට සියලු යහපත සැලසේවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා ඔස්ට්‍රේලියාවේ පදිංචි පින්වත් චාමර සන්දීප් ජයසිංහ මහත්මයා, ඒ වාගේම චතුරිකා මධුෂානි මහත්මිය සහ අයූ ඔහාරා දියණිය, මේ සම්බන්ධ වුනා. ඉතින් මේ පින්වතුන් රැස් කරගත්තු අප්‍රමාණ පින ඒ වාගේම භාග්‍යවතුන්

වහන්සේගේ අනන්ත සම්බුදු ඥාණයෙන් ලෝකයට අනුකම්පාව පිණිස දේශනා කරපු සත්තිස් බෝධි පාක්ෂික ධර්ම සහිත මේ සියලු ශ්‍රී සද්ධර්මය ඒ ධර්මයේ ආනුභාව බලයෙන්, ඒ වගේම බුදුරජාණන් වහන්සේ හැරුණු කොට අතීතයේ බුදුරජාණන් වහන්සේ හැරුණුකොට ඊට වඩා ඥාණයක් තිබුනු ශ්‍රමණයෙක්, බ්‍රාහ්මණයෙක් හෝ අතීතයේවත්, අනාගතයේවත්, වර්තමානයේවත් නෑ. බුදුරජාණන් වහන්සේ සියලු ධර්මයන්ගෙන් අනුත්තරීයයි. ඉතින් ඒ නිසා පින්වත්නි ඒ සත්‍යානුභාව බලයෙන් අපගේ මව්රටටත් සියලු ලෝකයටත්, සියලු සෙත් රැකවරණය සැනසිල්ල ඒකාන්තයෙන් උදාවේවා. සියලු කරදර බාධක, රෝග පීඩාදිය දුරු වෙලා මනුස්ස වර්ගයාට සියලු යහපත රැකවරණය සැලසේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම පින් පමුණුවනවා, පින් කැමැති සියලු දෙවියන්ට මේ පින් අනුමෝදන් වේවා. සියලු දෙවියෝ දැහැමින් මේ පින්වතුන් රැකගනිත්වා කියලා. ඉතින් ඒවාගේම පින් පමුණුවනවා පරම පූජනීය ගුරු දේවෝත්තම අපගේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට. මේ පින් අනුමෝදන් වෙලා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ, උන්වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා කියලා පින් පමුණුවනවා. ඒ වාගේම මේ සියලු පින් අනුමෝදන් කරනවා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර මහා සංඝරත්නයට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට, මේ පින් අනුමෝදන් වෙලා ධර්මාවබෝධයම සැලසේවා. ඒ වාගේම පින්නපොල ගුරු පියාණන්ට මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ඒ වාගේම දායකත්වය දරණ පින්වතුන්ගේ දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුවපත්භාවයත් බුද්ධ ශාසනයේ ධර්මාවබෝධයත් සැලසේවා. ඔස්ට්‍රේලියාවේ පදිංචි පින්වත් චාමර සන්දීප් ජයසූරිය මහත්මයාත්, ඒ වාගේම චතුරිකා මධුෂානි මහත්මිය සහ අයූ ඔහාරා දියණියට මේ පින් අනුමෝදන් වේවා. ඉතින් මේ පින්වතුන්ට මේ පින් බලයෙන් කායික මානසික දුක් පීඩාදිය දුරු වේවා. කායික මානසික සැපය උදාවේව. උතුම් බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ලබාගන්න අද ධර්ම දානයෙන් රැස් කරගත්ත පින හේතුවාසනා වේවා කියලා පින් පමුණුවනවා. ඒ වාගේම ඔබ කාටත්, අපගේ මව් දෙමව්පිය, ඥාති බන්ධුමිත්‍රාදීන් කාටත් මේ පින් අනුමෝදන් වේවා. ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. සියලු දෙනාට උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න ඔබ සියලු දෙනා ඇතුලු සියලු දෙනාට සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතු වාසනා වේවා.

https://www.youtube.com/watch?v=ocv_rKkQ80k&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=58

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන ඔබ අද ශ්‍රවණය කරන්නෙ. මේ උතුම් දහම් වැඩසටහන අද දවසේ ශ්‍රද්ධා රූපවාහිනියෙනුත් ලක්විරු ගුවන් විදුලියෙනුත් විකාශනය කරවන්නට දායකත්වය දරනවා නො.51/7, ඇල්වල, උකුවෙල පදිංචි පින්වත් ශිරෝන් ජයරත්න මහත්මයා, හංසික තුංගරත්න මහත්මා, ඒ වාගේම ප්‍රසාද් චතුරංග මහත්මා, ක්‍රිශාන්ති ජයරත්න මහත්මිය, ඉන්ද්‍රා මැණිකේ මහත්මිය සහ කාන්ති සුභසිංහ මහත්මිය ඇතුළු පවුලේ සියලු දෙනා. ඉතින් මේ පින්වතුන් සියලු දෙනාට අද දවසේ විශාල යහපතක් සැලසෙනවා මේ ධර්ම දානයෙන් පින් රැස්වෙන එක, ඉතින් 2019 ජූලි 20 වන දින මියපරලොව ගිය රණසිංහ ජයරත්න පියාට පින් අනුමෝදන් කරන්නටත්, ඒ වාගේම ජූනි මස 14 වන දිනට ජන්මදිනය සමරන හිමායා තුංගරත්න සහ අමායා තුංගරත්න දියණිවරුන්ට පින් අනුමෝදන් කරන්නටත්, ඒ දියණිවරුන්ට තුණුරුවන්ගේ ආශිර්වාදය ප්‍රාර්ථනා කරන්නටත්, මියගිය පියාණන්ට පින් පමුණුවන්නටත් අද දවසේ මේ ධර්මදානමය පිනෙන් අවස්ථාවක් කරගන්නවා. ඉතින් මේ ඇත්තන්ට

සන්තෝෂයට පත්වෙන්න පුලුවන් අදත් අපිට අපගේ බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ගුණ සමුදායක් ඉගෙන ගන්න ලැබෙනවා බුදුරජාණන් වහන්සේගේ සූත්‍ර දේශනා ඇසුරින්ම, අද දවසේ අපිට පහුගිය කාලේ එක එක විදියට බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ කිව්ව අයගේ තොරතුරු කතා කලා. අද අපි කතා කරනවා රජ කෙනෙක් බුදුගුණ කිව්ව හැටි. අපි අද කතා කරන්නෙ රජ කෙනෙක් බුදුගුණ කිව්ව හැටි. මේ තමයි කෝසල මහාරජ්ජුරුවෝ බුදුගුණ කිව්ව හැටි. මේ දේශනාවේ නම ධම්මචේතිය සූත්‍රය. කොසොල් මහරජ්ජුරුවෝ බුදුරජාණන් වහන්සේට ඉස්සෙල්ලාම පැහැදිලා හිටියේ නෑනෙ. ඉතින් බුදුරජාණන් වහන්සේට කොසොල් මහාරජ්ජුරුවෝ ශාස්තෲන් වහන්සේ කෙරෙහි පහදවන්න ගොඩාක් මහන්සි වුනේ මල්ලිකා. කෝසල මල්ලිකාව. ඒ තමයි ඉස්සෙල්ලාම, බුදුරජාණන් වහන්සේගේ මුල් කාලයේ බුදුරජාණන් වහන්සේගේ වැරැද්දක් තිබ්බොත් ඒක ඉස්මතු කරලා කතා කරනවා, වැරැද්දක් තිබ්බොත් කියන්නෙ වැරදි මිනිස්සු ගොතනවානෙ, උදාහරණයක් ගත්තොත් ...ජාතක සූත්‍රය. ප්‍රිය දේවල් නිසා දුක හටගන්නවා කියලා, එහෙම කොහොමද වෙන්නෙ කියලා මිනිස්සු කතා වෙනකොට රජ්ජුරුවොත් ඔය අදහසේ හිටියානෙ. ඉතින් මල්ලිකා දේවිය තමයි රජ්ජුරුවෝ සන්සිඳෙව්වෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ගාවට යවනවා මල්ලිකා දේවිය එක්තරා දූතයෙක්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ප්‍රිය දේවල් නිසා දුක උපදින හැටි කියලා දෙනවා. ඒවා මල්ලිකා දේවිය ගාණට කියලා දෙනවා රජ්ජුරුවන්ට. ඔන්න පැහැදෙනවා. ඊටපස්සෙ ඒත් ලොකු පැහැදීමක් නෑ. අර හීනයක් දැකලා අකුරු හතරක් ඇහිලා, ඒත් යාගයක් කරන්නනෙ හිතන්නෙ. ඒත් මල්ලිකා බේරගන්නෙ. හීන දාසයක් දැකලා, ඒත් මල්ලිකා බේරගන්නෙ. ඔය සිද්ධින් එක්ක බුදුරජාණන් වහන්සේ ගැන ලොකු පැහැදීමක් කොසොල් රජ්ජුරුවන්ට ආවා. ඇවිල්ලා එක දිගට ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඇසුරු කරන්න ගත්තා. ඊටපස්සෙ කොසොල් මහරජ්ජුරුවන්ට ආසාවක් ඇතිවුනා බුදුරජාණන් වහන්සේගේ පවුලෙම ඥාතියෙක් වෙන්න ඕන කියලා. ශාක්‍ය ජනපදයෙන් කන්‍යාවක් ගෙනල්ලා විවාහ කරගත්තා, වාසභකත්තියා. එතකොට මේ විදියට බුදුරජාණන් වහන්සේගේ ගැන ලොකු ප්‍රසාදයක් තිබ්බා. ඉතින් කොසොල් මහාරජ්ජුරුවන්ට දැන් වයස අවුරුදු අසූවයි. බුදුරජාණන් වහන්සේගේ වයසයි, කොසොල් මහාරජ්ජුරුවන්ගේ වයසයි සමානයි. ඉතින් බුදුරජාණන් වහන්සේ නම් දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් බැබලෙනවා. දැන් කාටහරි හිතුනොත් බුදුරජාණන් වහන්සේ දිහා බලලා දැන් නම්

බුදුරජාණන් වහන්සේ වයසයි වගේ. අන්න ඒ වචනය පිට නොවෙනකල් තමයි, පිටවෙන්න කලින් භාග්‍යවතුන් වහන්සේලා පිරිනිවන් පානවා. දැන් කාශ්‍යප බුද්ධ ශාසනයේ අවුරුදු විසිදාහක් ආයුෂ තියෙන කාලෙ, කාශ්‍යප බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාලා තියෙන්නෙ අවුරුදු දාසයදාහෙන්. අවුරුදු දාසයදාහෙන්ම කාශ්‍යප බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාලා. නමුත් ඒ කාලේ ආයුෂ අවුරුදු විසිදාහයි. එතකොට අපේ බුද්ධ ශාසනය කාලෙ මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු සීයක්, එකසිය විස්සක්. නමුත් බුදුරජාණන් වහන්සේ අවුරුදු අසූවෙන් පිරිනිවන් පෑවා. ඒ කියන්නෙ කාටවත් හිතෙන් නෑ බුදුරජාණන් වහන්සේ දිහා බලලා දැන් නම් බුදුරජාණන් වහන්සේ වයසට ගිහිල්ලා වගේ. ඒ එහෙම හිතෙන් නෑ, දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගේ පුංචිම වෙනසක්වත් වෙන්නේ නැති කාලෙ තමයි භාග්‍යවතුන් වහන්සේ පිරිනිවන් පාන්නෙ. ඒක ලෝක ධර්මතාවයක්. ඉතින් කොසොල් මහරජ්ජුරුවො එහෙමත් දැන් ටිකක් වැහරිලා. ඉතින් කොසොල් මහාරජ්ජුරුවො ඒ කාලෙ, බුදුරජාණන් වහන්සේ ඒ කාලයේ ශාක්‍යයන්ගේ ජනපදයේ මේදතලම්ප කියන ශාක්‍ය නියංගමේ වාසය කරන්නෙ. එතකොට ඒ ශාක්‍ය ජනපදයේ මේ පැත්තේ කෝසල ජනපදයයි දෙක, දේශසීමාවෙන් තමයි වෙන් වෙලා තියෙන්නෙ, ළඟ, ළඟ. ශාක්‍ය ජනපදය අයිති කෝසලයට. කෝසලයටම අයිති කොටසක් ශාක්‍ය ජනපදය, කපිලවස්තුව. ඒ කාලයේ පසේනදි කොසොල් මහාරජ්ජුරුවන්ට යම්කිසි කරුණකට එහෙ මෙහෙ යන්න හිතුනා. ඉතින් කොසොල් රජ්ජුරුවො මොකක්ද කලේ, දීඝකාරායන අමාත්‍යයාට කිව්වා තම්මකාරායන මිත්‍රය, භද්‍රානි භද්‍රානි යානානි උය්‍යානි භූමිං ගච්ඡාම, කියනවා යෝදෙහි සම්ම කාරායන භද්‍රානි භද්‍රානි යානානි. මිත්‍ර කාරායන, හොඳ සැප පහසු යානාවල් හදන්න. උද්‍යාන භූමියට යන්න ඕන මට උද්‍යානය බලන්න. දීඝකාරායන අමාත්‍යයා භද්‍ර භද්‍ර, යහපත් සුන්දර යානාවල් හදලා මහරජ්ජුරුවන්ට දැනුම් දුන්නා, කාලය. කොසොල් මහරජ්ජුරුවො ආරාමයට ගියා. ඊටපස්සෙ යම්තාක් ආරාමයට ගිහිල්ලා, පයින් බැහැලා දැන් උද්‍යානයේ ඇවිදිනවා, අවුරුදු අසූවක කොසොල් මහරජ්ජුරුවො. කොසොල් මහරජ්ජුරුවො දැක්කා ඇවිද ඇවිද යනකොට රුක්ඛ මූලානි, ගස් මුල් තියෙනවා හරි ලස්සනයි. පාසාදිකානි, හිත ප්‍රසාදයට පත්වෙනවා. පාසාදනෙය්‍යානි, ප්‍රසාදය ඇතිකරවනවා. අප්පසද්දානි, සද්දෙ නෑ. අප්පනිඝෝසානි විජනවාතානි, අප්පනිඝෝසානි, ඝෝෂාව අඩුයි. විජිනිපාතානි, එතන හුලං හමන්නෙ මිනිස්සුන්ගේ ඇඟේ හැප්පිලා නෙවෙයි. ඒ

කියෙන්නෙ විජිනිවාතා. ජනයාගෙන් තොර හුළඟ. දැන් අපි ගත්තොත් ජනයා ගොඩාක් ඉන්න තැන නගරයේ ජනයාගෙන් එන හුළං තියෙන්නෙ. එතකොට වනය විජීනවාතානි. ඊටපස්සෙ මනුස්සරහසේ, මිනිස්සුන්ගේ රහස් වැඩ වලට සුදුසු. පටිසල්ලාන සාරුප්පානි, බණ භාවනාවට සුදුසු. මේ පරිසරය දැක්ක ගමන්ම මතක් වුනේ බුදුරජාණන් වහන්සේ. බුදුරජාණන් වහනසේලාට හොඳයිනෙ මේ වාගේ තැන් කියලා. ඊටපස්සෙ ඉමානිකානි රුක්ඛ, මේ රුක් මුල් දැකලා බුදුරජාණන් වහන්සේ මතක් වෙලා අනේ මටත් බුදුරජාණන් වහනසේ ළඟට යන්න ඇත්නම් කියලා හිතුනා. අතකෝ රාජා පසේනදී කෝසලෝ දීඝං කාරායේනං ආමන්තේසි. දීඝකාරායනට කතා කලා, කතා කරලා කියනවා ඉමානිකෝ සම්ම කාරායේන කාරායේන, මේ රුක් මුල් ප්‍රසාද ජනක දේවල් දකිනකොට මට භාග්‍යවතුන් වහන්සේ පයුරුපාසනය කරන්න හිතුනා, ඇසුරු කරන්න හිතුනා. කහන්නකො සමකාරායෙන ඒතරීසෝ භගවා විහරති අරහං සම්මා සම්බුද්ධො, කොහෙද දැන් මේ දවස්වල භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්නෙ. අත්ථි මහාරාජ මේදදලුංපන්නානං සක්‍යානං නිගම, ශාක්‍යයන්ගේ ජනපදයක් තියෙනවා මේදතලුංප කියලා ඉතින් ඒ ගමේ තමයි භාග්‍යවතුන් වහන්සේ මේ දවස්වල වැඩ ඉන්නෙ. කීවදූරෝපන සම්ම කාරායෙන නගරකම්මා මෙදතලුංපං නාම සක්‍යානං නිගමොහොතී ති, කොච්චර දුරකින්ද ඕක තියෙන්නෙ? න දූරෙ මහරාජ, ගොඩාක් දුර නෑ රජතුමනි. තෙනි යොදුනානි, යොදුන් තුනයි. සක්කා දිවසාව සෙසෙන ගංතුං, හවස් වෙන්න කලින් යන්න පුලුවන්. එහෙනම් සම්මකාරායෙන, මිත්‍ර කාරායනය. හොඳට යන්න පුළුවන් පහසු යානාවල් හදන්න. මට දැන් බුදුරජාණන් වහන්සේ බැහැදකින්න යන්න ඕන. දැන් ඒ කාලෙ විවේක, වනසෙනසුන් දකිනකොට රහතුන් ඇසුරු කරන අදහස ගිහි මිනිස්සුන්ටත් එන්නෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න මේදකලුංප කියන ශාක්‍ය නියං ගමට ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේ අවුරුදු අසූවෙදි ශාක්‍යයන්ගේ ගමට වැඩලා තියෙනවා. කොසොල් මහාරජ්ජුරුවෝ යානා වලින් ඒ නගරයේ භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටපු උයනට පැමිණියා. තෙන ඛො පන සමයෙන සම්භවලහික්ඛුබොකාසෙ චඞ්කමන්ති, එකල්හි සවස් කාලයේනෙ, සංඝයා එළියේ සක්මන් කරනවා. කොසොල් මහා රජ්ජුරුවො සංඝයා ළඟට ගියා. කහන්නකො භන්තෙ ඒතරෙසො භගවා විහරති අරහං සම්මාසම්බුද්ධො, ස්වාමීනී මේ වෙලාවේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ කොහෙද වැඩ ඉන්නෙ. දස්සන කාමාහි මයන්තං භවන්තං අරහන්තං සම්මා

සම්බුද්ධන්ති. මට ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ බලන්නට ඕන. මට කැමැත්තක් තියනෙවා. ඒ සොබො මහාරාජ සංවතත්ද්වාරෝ, ආන්න තියෙනවා අර කුටියක් තියෙන්නෙ දොර වහලා, ඒ කුටියේ තමයි බුදුරජාණන් වහන්සේ දැන් වැඩ ඉන්නෙ. ඉතින් කියනවා තෙන අපසද්දො උපසංකමිත්වා අතරමානො ආලින්දං පවිසිත්වා, ඒ එතෙන්ට ගිහිල්ලා නිහඬව ඒ ඉදිරි පිළිකන්නට ගිහිල්ලා ආලින්දයට, ඊටපස්සෙ උක්කාසිත්වා, උගුර පොඩ්ඩක් පාදලා. අග්ගලං ආකොටෙහි, දොර අගුලට පොඩ්ඩක් තට්ටු කරන්න. විවරස්සති තෙ භගවා ද්වං, බුදුරජාණන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේ ද්වාරය විවෘත කරනවා. ඉතින් කොසොල් මහාරජ්ජුරුවෝ විවේකයෙන් ගිහිල්ලා අර විදියට දොරට තට්ටු කලා. දොර ඇරියා භාග්‍යවතුන් වහන්සේ. අත බො රාජා පසේනදී කොසලො යෙන සො විහාරො සඬ්ඣතත්ද්වොරො තෙන අප්පසද්දො උපසංකමිත්වා, අර දොර ළඟට ගිහිල්ලා අර විදියට දොරට තට්ටු කරලා මේ බුදුරජාණන් වහන්සේට වැඩම කිරීම පිණිස දොරට තට්ටු කලා, භාග්‍යවතුන් වහන්සේ ද්වාරය විවෘත කලා. කොසොල් මහා රජ්ජුරුවො ද්වාරයට ගොඩ වෙලා පාදෙ සිරසා නිපතිත්වා භගවතො පාදෙ, භාග්‍යවතුන් වහන්සේගේ පා මත සිරස තියලා, සිරිපාදය ළඟ සිරස තියලා, භගවතො පාදානි මුකේනච පනිචුම්භති, බුදුරජාණන් වහන්සේගේ සිරිපා මුවින් ඉඹිනවා. මේ කොසොල් මහරජ්ජුරුවො අද රෑට මේ දවසේ රෑට කොසොල් මහරජ්ජුරුවො මැරෙනවා. මේ බලන්න මේ එක එක්කෙනාගෙ ජීවිත වල සිද්ධ වෙන දේවල්. තුන් හිතකින්වත් එදා උදේ හිතුවෙ නැනෙ බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න තැනකට යන්න ඕන කියලා. නිකාම්ම අර පාළුවක් වාගේ තියෙනකොට උද්‍යානයට යන්න හිතුනා. උද්‍යානයට ගියාට පස්සෙ දැන් අර පාළු ගතියක් වාගේ රජ්ජුරුවන්ට එන්න ඇත්තෙ මරණය ළඟ නිසා. ඊටපස්සෙ උද්‍යානයට ගියා. උද්‍යානයේ විවේක වනසෙනසුන් දකිනකොට බුදුරජාණන් වහන්සේ මතක් වුනා. භාග්‍යවතුන් වහන්සේ හොයාගෙන ගියා. භාග්‍යවතුන් වහන්සේ දැක්ක ගමන්ම සිරිපා ළඟ වැඳ වැටිලා, මුවෙන් සිරිපා ඉඹිනවා. ඊටපස්සෙ පාණේහිච පරිසම්භාහති, තමන්ගේ අත්දෙකෙන් සිරිපා මෙහෙම අතගානවා, රන්වන් සිරිපා සගල. නාමංච සාවෙති, නමත් කියනවා. රාජාහං භන්තෙ පසෙනදි කොසලො, ස්වාමීනී මම පසේනදී කෝසල රජ්ජුරුවො. රාජහං භන්තෙ පසෙනදි කොසලො, මම කොසොල් මහාරජ්ජුරුවො. බුදුරජාණන් වහන්සේ අහනවා කිං පන ත්වං මහාරාජ, අත්ථවසං සම්පස්සමානො ඉමස්මිං සරීරෙ එවරූපං පරමනිපච්චාකාරං කරොසි

චිත්තූපහාරං උපදංසේසීති, මොන කරුණක් දැකලද මේච්චර පැහැදීමෙන් මේ චිත්ත උපහාරයක් කරන්නෙ. පරම නිපච්චාකාරය, සාමාන්‍යයෙන් ලොකු පැහැදීමක් ඇත්ත පැහැදීමක් නැතිව සාමාන්‍යයෙන් ප්ලෑන් කරන්නැතිව කෙනෙකුට වදිනකොට අවංකව වදිනකොට පා මත හිස තියලා ආදරයෙන් වදින්න එහෙම ලේසියෙන් බෑ. ඒ විදියට වදිනවා නම් ඒක පරමනිපච්චාකාරයක්. ඒ කියන්නෙ එයා ඇත්තටම තමයි වදින්නෙ. දැන් මේ සිද්ධිය මං කියන්නෙ, නැත්නම් දැන් හිතයි උපාසකම්මලා එහෙම නම් අපිත් පරමනිපච්චාකාරය කරන්න ඕන කියලා. එහෙම නෙවෙයි, ඒක ස්ත්‍රීන්ට කැප නෑ. මං මේ කියන්නෙ කොසොල් මහාරජ්ජුරුවො ගැන. එතකොට පරමනිපච්චාකාරය කරනවා ඒ කියන්නෙ උත්තම, අවංකම වන්දනාවක් මේක. ඊටපස්සෙ කොසොල් මහාරජ්ජුරුවන්ගෙන් අහනවා මොකකටද මෙච්චර පැහැදීමක්. ඉතින් කියනවා, අත්ථි ඛො මෙ භන්තෙ භගවති ධම්මන්වයො, මට බුදුරජාණන් වහන්සේ ගැන පැහැදීමක් තියෙනවා ස්වාමීනී. ධර්මන්වය, ධර්මය අනුව ගිය. අන්න අලුත් වචනයක්. ධම්මන්වය පැහැදීම. ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේ ගැන ධර්මය ගැන, සංඝයා ගැන පැහැදීමක් ඇති වෙන්න ඕන ධර්මානුකූලව. ධර්මයට අනුව යන පැහැදීමක්. ආන්න ඒකයි බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ ධර්මයෙන්ම ඉගෙන ගන්න ඕන. ශ්‍රී සද්ධර්මයේ වටිනාකම ධර්මයෙන්ම තේරුම් ගන්න ඕන. සංඝයාගේ වටිනාකම ධර්මයෙන්ම තේරුම් ගන්න ඕන. ධර්මානුකූලව, යමක් දැක්ක පමණින් නැතිව, ධර්මානුකූලව නුවණින් විමසලා පැහැදීමක් ඇති කරගන්නවා නම් ඒක ධම්මන්වය පැහැදීමක්. මට බුදුරජාණන් වහන්සේ ගැන ධම්මන්වය පැහැදීමක් තියෙනවා, භෝති සම්මා සම්බුද්ධෝ භගවා, භාග්‍යවතුන් වහන්සේ සියල්ල මැනැවින් අවබෝධ කළා සම්මා සම්බුදුයි කියලා. ධර්මය මනාව දේශනා කලා, ස්වාක්ඛාතො භගවතා ධම්මො. ශ්‍රාවක සංඝයා මනාව මේ ප්‍රතිපදාවේ පිළිපන්, ප්‍රතිපදාව අනුගමනය කරනවා කියලා, සුපටිපන්නො භගවතො සාවක සංඝො කියලා මට ධර්මය අනුව ගිය පැහැදීමක් තියෙනවා. ඒකයි මං මෙච්චර භාග්‍යවතුන් වහන්සේට ආදරේ, සෙනෙහස. කියනවා ස්වාමීනී, මං කාරණා ටිකක් කියන්නම් දැන් කොසොල් රජ්ජුරුවෝ කරුණු කාරණා කියනවා ඒ ධම්මන්වය පැහැදීම ඇතිවෙච්චි හැටි. කියනවා ඉධාහං භන්තෙ පස්සාමි ඒකෙ සමණබ්‍රාහ්මණෙ පරියන්ත කතං බ්‍රහ්මචරියං චරන්ති, දසපි වස්සානි වීසතිම්පි වස්සානි තිංසම්පි වස්සානි චත්තාරීසම්පි වස්සානි. මං මේ දකිනවා සමහර ශ්‍රමණ බ්‍රාහ්මණයෝ බ්‍රහ්මචාරීව ඉන්නවා, බඹසර. පැවිදි ජීවිතේ ඉන්නවා

අවුරුදු දහයක්, විස්සක්, තිහක්, හතළිහක් ඉන්නවා. ඒ තාක් බඹසර රකිනවා. ඉධ පනාහං භන්තෙ භික්ඛූ පස්සාමි, හැබැයි මේක පරියන්තයක් තියෙනවා අවුරුදු දහයක්. අවුරුදු විස්සක්, තිහක් හතළිහක් කියලා. මොකද ඉස්සර බ්‍රාහ්මණයන්ගෙත් බොහෝ බ්‍රාහ්මණයො අවුරුදු හතළිහ හෝ හතළිස් අට වෙනකල්, හතළිස් ගාණක් වෙනකල් ඉස්සෙල්ලාම ගත කරන්නෙ බඹසරක්. ඊටපස්සෙ තමයි කසාද බඳින්නෙ. ඒ වාගේ සමහර තාපසයො අවුරුදු තිහ, හතළිහ උපරිම ඒ විදියට තාපස ජීවිත ගත කරලා සමහර අය පස්සෙ කසාද බඳිනවා. දරුමල්ලො හදාගන්නවා. ඊටපස්සෙ කියනවා ඉධ පනාහං භණ්තෙ භික්ඛු පස්සාමි, ඒ වුනාට මේ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයො මම දකිනවා, යාවජීවං පාණකොටිකං පරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං චරන්තෙ, මුළු ජීවිතේ තිබෙන තුරාම පිරිසිදු පාරිශුද්ධ බ්‍රහ්මචාරී බව රකිනවා. භික්ෂූන් වහන්සේ නමක්ගේ පරියන්තයක් නෑ. ඒ කියන්නෙ අවුරුදු දහයකින්, දැන් අපි කිව්වොත් ආමි එකට ගියොත් අවුරුදු විස්සයි, මෙච්චරයි කියලා එයාලගෙ කාල තියෙනවානෙ. ඊළඟට ගුරු පත්වීමක් වුනත් අපි පෙන්ෂන් යනවා කියලා එකක් තියෙනවා. ඊළඟට රජයේ රස්සා පෙන්ෂන් යනවා කියලා තියෙනවා. ඒ ආණ්ඩුවේ රස්සා වල පෙන්ෂන් යනවා කියලා තියෙනවා. මැති ඇමැතිවරුන්ටත් අවුරුදු පහක හරි කාලයක් තියෙනවා. මහණකම එහෙම නෑ. යාවජීවං. ඒ කියන්නෙ මුළු ජීවිතකාලෙම. අවසන් හුස්ම පොද යනකං මහණකම කියන එක තියෙන්නෙ. මේ ලෝකෙ හැමඑකකටම වාගේ පරියන්තයක් තියෙනවා, අවසානයක්. ඒ කියන්නෙ අවුරුදු පනහෙන් ඉවර කරනවා, හැටෙන් ඉවර කරනවා, මේ වැඩ ටික ඉවර වුනාට පස්සෙ මේක ඉවරයි. මහණකම එහෙම නෑ. මේ කසාවත දරාගෙන අනගාරික පැවිද්දට ආවට පස්සෙ යාවජීවං, මුළු ජීවිතේම මහණකමම තමයි, පැවිද්දෙක්. ඊළඟට පිරිසිදු බඹසර රකිනවා. න ඛො පනාහං භන්තෙ ඉතො බහිද්ධා අඤ්ඤං එවං පරිපුණ්නං පරිසුද්ධං බ්‍රහ්මචරියං සමනුපස්සාමි, මෙතනින් එහා නම් වෙන ආගම් වල නම් ඔහොම නෑ භාග්‍යවතුන් වහන්ස. මෙහෙම නෑ. ඒ නිසා ඔන්න ඕක දකිනකොට මට නම් හිතෙනවා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුදුවරයෙක්. මේ ධර්මය නම් පුදුම යහපතකට දේශනා කරපු එකක්, මනාව දේශනා කරපු එකක්. සංඝයා සුපටිපන්නයි කියලා මට හිතෙනවා. ඕක තමයි කිව්වා මගේ ධර්මන්වය පැහැදීම. ඊළඟට ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මම දැක්කා රාජානොපි රාජූහි විවදන්ති, රජවරු රජවරු වාද විවාද කරනවානෙ. ඛත්තියාපි ඛත්තියෙහි විවදන්ති, ක්ෂත්‍රයයො ක්ෂත්‍රියයොත් එක්ක විවාද කරනවා,

බ්‍රහ්මණාපි බ්‍රාහ්මණෙහි, බමුණොයි බමුණොයි වාද කරනවා. ගෘහපතියො ගෘහපතියො වාද විවාද ඇති කරගන්නවා. අම්මලා දරුවොත් එක්ක, දරුවො දෙමාපියොත් එක්ක, සහෝදරියො සහෝදරයොත් එක්ක වාද විවාද කරගන්නවා. ඉතින් ඔහොම තියෙන කාලෙ යාළුවො යාළුවොත් එක්ක වාද විවාද කරගන්නවා. ඉධ පනාහං භන්තෙ භික්ඛු පස්සාමි, ඒත් මම මේ භික්ෂු සංඝයා දිහා බලනවා. භික්ෂු සංඝයා දිහා බලනකොට මට පේනවා, සමග්ගා සම්මොදමානා අවිවදමානා, සමගිව සමගියෙන් යුතුව වාද විවාද කරගන්නැතිව, ඛීරොදකීභූතා, කිරියි වතුරයි එකතු වුනා වාගේ, අඤ්ඤමඤ්ඤං පියචක්ඛූහි සමපස්සන්තා විහරන්ති, එකිනෙකා කෙරෙහි ප්‍රිය ඇසින් බලමින් වාසය කරනවා. කොහොමද ඒ කාලෙ සංඝයා ඉඳලා තියෙන හැටි. වාද විවාද නෑ. අද එක භික්ෂූන් වහන්සේ නමක් තව භික්ෂූන් වහන්සේ නමකට කියනවා වරෙන් වාදෙට. වාද විවාද නෑ ඒ කාලෙ. එකිනෙකා කෙරෙහි ප්‍රිය ඇසින් බලමින් වාසය කරනවා. ඊටපස්සෙ න ඛො පනාහං භන්තෙ ඉතො බහිද්ධා අඤ්ඤං එවං සමග්ගං පරිසං සමනුපස්සාමි, මෙතනින් එහා මේ බුද්ධ ශාසනෙන් එහා නම් මේ වාගේ සමගියෙන් ඉන්න ශ්‍රාවක පිරිසක් දකින්න නෑ. මට මේක දකිනකොට මට හිතෙනවා බුදුරජාණන් වහන්සේ නම් සම්මා සම්බුදුවරයෙක්මයි. ශ්‍රී සද්ධර්මය නම් ස්වාක්ඛාතයි, ශ්‍රාවක සංඝයා සුපටිපන්නයි කියලා මට හිතෙනවා. ඉතින් ස්වාමීනී, මම දකිනවා ආරාමයෙන් ආරාමයට, උද්‍යානයෙන් උද්‍යානයට මමත් ඇවිදින කෙනෙක්නෙ. සොහං තත්ථ පස්සාමි එකෙ සමණබ්‍රාහ්මණෙ, මම දකිනවා ශ්‍රමණ බ්‍රාහ්මණවරු, කිසෙ ලූඛෙ දුබ්බණ්ණෙ උප්පණ්ඩුප්පණ්ඩුකජාතෙ ධමනිසන්ථතගත්තෙ න විය චක්ඛුං බන්ධන්තෙ ජනස්ස දස්සනාය. අනේ එක එක විදියට ඉන්නවා, ඇටකෝටු ටික විතරක් වෙලා ඉන්න ශ්‍රමණ බ්‍රාහ්මණවරු දැකලා තියෙනවා කිව්වා. කළු වෙලා කෙට්ටු වෙලා රසකිඳ වැල් වාගෙ අතපය කෙට්ටු වෙලා මනුස්සයෙකුට ආපහු හැරිලා බලන්න හිතෙන් නෑ කියනවා, මං සමහර ශ්‍රමණ බ්‍රාහ්මණවරු දැකලා තියෙනවා. තස්ස මය්හං භණ්තෙ එවං හොති, මට හිතෙනවා ඒ අය දැක්කට පස්සෙ, අද්ධා ඉමෙ ආයස්මන්තො අනභිරතා වා බ්‍රහ්මචරියං චරන්ති, මට හිතෙන්නෙ ඒ උන්නාන්සේලා මේ ශ්‍රමණ බ්‍රාහ්මණවරු තපස් රකින්නෙ පැවිදි වෙලා ඉන්නෙ කැමැත්තකින් නම් නෙවෙයි. මහා පීඩාවකින්, මහා දුකකින් කරගන්න දෙයක් නැති තැන ඉන්නවා වගේ කියලා තමයි මට හිතෙන්නෙ. කිසිම ප්‍රියමනාප බවක් මූණෙ පේන්නෑ. අත්ථි වා තෙසං කිඤ්චි පාපං කම්මං කතං පටිච්ඡන්තං, එක්කො මට හිතෙනවා මේ අය මොනවාහරි වැරදි වැඩක්,

හොර වැඩක් කරලා හිතින් විඳව විඳවා ඉන්නවා කියලා. ඒ නිසා තමයි මේ අය මෙච්චර දුර්වර්ණ වෙලා ඉන්නෙ කියලා මට හිතෙනවා. ඊටපස්සෙ මම මොකක්ද කරන්නෙ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මං ගිහිල්ලා ඒ අයගෙන් අහනවා. ඇත්තටම ශ්‍රමණවරුනි, නුඹලා මොකද මේ මෙච්චර කැහැටු ගැහිලා ගිහිල්ලා. මොකක්ද මූණෙ කිසිම පාටක්වත් නැනෙ. ඊටපස්සෙ ඒ අය මට කියනවා තෙ එවමාහංසු: ඒ අය කියනවා, බන්ධුකරොගො නො මහාරාජා'ති, රජතුමනි අපිට බන්ධුක රෝගය, මාන්දම හැදිලා අපිට තියෙන්නෙ කියලා කියනවා. බන්ධුක රෝගය හැදිලා. ඉධ පනාහං භන්තෙ භික්ඛු පස්සාමි, ඒව වුනාට මං මේ ස්වාමීන් වහන්සේලා දකිනවා. හට්ඨපහට්ඨා උදග්ගුදග්ගා අභිරතරූපා පිණිතින්ද්‍රියා, හරී ප්‍රියමනාපයි. පිනාගිය ඉඳුරන් ඇතිව, හොඳට පිරිපුන් කයෙන් යුතුව වාසය කරනවා. අප්පොස්සුක්කා පන්නලොමා පරදවුත්තා මිගභූතෙන චෙතසා විහරන්තී, හරී පහසුවෙන් මුව පැටව් ටික වගේ ඉන්නවා. හරී අහිංසකයි. තස්ස මය්හං භන්තෙ එවං හොති. මට ස්වාමීන් වහන්සේලා දකිනකොට හිතෙනවා අද්ධා ඉමෙ ආයස්මන්තො තස්ස භගවතො සාසනෙ උළාරං පුබ්බෙනාරං විසෙසං සඤ්ජානන්ති, මේ ස්වාමීන් වහන්සේලා නම් මාර්ග ඵල ලබලා ඇති. මොනවාහරි ධ්‍යාන වඩනවා ඇති. මට හිතෙනවා. ඇයි මූණ දැක්කාත් ප්‍රසන්නයි. හරී අහිංසක බවක් තියෙනවා. ඊටපස්සෙ තථා ඉමෙ ආයස්මන්තො හට්ඨපහට්ඨා, ඒ නිසා තමයි මේ අය හොඳට සතුටින් ප්‍රියමනාපව බොහොම සන්තෝෂෙන් ඉන්නවා පේන්නෙ. ඉතින් අයම්පි බො මෙ භන්තෙ, ඒවා දකිනකොටත් මට, දැන් මං අරවත් දැකලා තියෙනවානෙ අර ශ්‍රමණ බ්‍රාහ්මණවරු. ඉතින් ඒ වාගේ වෙලා මේ සංඝයා ප්‍රියමනාප ඉඳුරන් සහිතව ඉනන්කොට මට නම් හිතෙනවා බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි. මේ වාගේ ශාසනයක් බිහිකලා, මේ වගේ දහමක් දේශනා කලා. ඒ ධර්මය ඒකාන්තයෙන් ස්වාක්ඛාතයි. මේ සඟරුවන සුපටිපන්නයි. මට ධර්මානුකූලව පැහැදීමක් එනවා. ස්වාමීනී තව කාරණාවක් තියෙනවා. රාජා ඛත්තියො මුද්ධාවසිත්තො පහොමි ඝාතෙතායං වා ඝාතෙතුං, මම රජ කෙනෙක්, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මට හැකියාව තියෙනවා, මට ශක්තිය තියෙනවා, ඝාතනය කරන අය මට ඝාතනය කරන්න පුලුවන්. රටින් පිටුවහල් කරන්න ඕන අය පිටුවහල් කරන්න පුලුවන්. ඉතින් ඒ වගේම දඬුවම් දිය යුතු අයට දඬුවම් දෙන්න පුලුවන්. ඒ වුනාට මම නඩු කියන ආසනය, අට්ඨකරණය, මම උසාවියේ විනිසුරු ආසනයේ ඉන්නකොට රජතුමා, අන්තරන්තරා කථං ඔපාතෙන්ති, මේ එක එකා කුටු කුටු ගානවා. ඊටපස්සෙ

සොහං න ලභාමි, මට ලබන්න බෑ. මාමෙ හොන්තො අට්ටකරණෙ නිසින්නස්ස මෙ අන්තරන්තරා කථං ඔපාතෙථ කථාපරියොසානං මේ භවන්තො ආගමෙන්තූති. මේ නඩුවක් විභාග කරන වෙලාවේ මේ ඔහේලා එක එක තැන්වල කුටු කුටු ගාන්න එපා, කියලා මම කියනවා ඒ අයට. තස්ස මය්හං භන්තෙ අන්තරන්තරව කථං ඔපාතෙන්ති. ඒත් මේ නඩුව කියාගෙන යනවා, ආයෙත් කුටු කුටු ගානවා. මේ රජ කෙනෙක් වෙලා ඕන එකෙක් මරන්න පුලුවන්, පිටුවහල් කරන්න පුලුවන්, දඩුවම් කරන්න පුලුවන්කම මට තිබිලත්, මේ උසාවිය නිශ්ශබ්ද කරගන්න බෑ මට. මගෙ හිතේ පාර්ලිමේන්තුව වගේ එකක්. ඕඩ(ර්), ඕඩ(ර්) කියලා කියනවා ඇති. නිහඬ කරගන්න බෑ. ඊටපස්සෙ ඉධ පනාහං භන්තෙ භික්ඛු පස්සාමි, ඒ වුනාට ස්වාමීනී, මම සංඝයා දැක්කා. යස්මං සමයෙ භගවා අනෙකසතාය පරිසාය ධම්මං දෙසෙති, සිය ගණන් පිරිසට දහම් දෙසනවා, බුදුරජාණන් වහන්සේ දවසක්. නෙව තස්මිං සමයො භගවතො සාවකානං ඛිපිතසද්දො වා හොති උක්කාසිතසද්දො වා. අනේ ස්වාමීනී මේ කහින හඬක් නෑනෙ. උගුර පාදන හඬක් නෑනෙ. කොහොමද ඒකාලෙ බුදුරජාණන් වහන්සේ දහම් දෙසනකොට. අර නියඟයෙන් ඉන්න පිරිසක් වැස්ස බලාගෙන ඉන්නවා වගේ කියනවා බලාගෙන ඉන්නෙ බුදුරජාණන් වහන්සේ බණ පදයක් කියනකල් ඒ කාලෙ. පුදුම සහගතයි. කිපිත සද්දයක්, කැස්සක්, උගුර පාදන හඬක් නෑ කියනවානෙ. ඉතින් ස්වාමීනී මමත් ඕක බලාගෙන හිටියා. ඊටපස්සෙ එක දවසක් බුදුරජාණන් වහන්සේ ඔහොම දේශනා කරනකොට එක ස්වාමීන් වහන්සේ නමකට කැස්සක් ගියා. එකපාරටම කැස්සක් ආවා. එතකොට ළඟ හිටපු ස්වාමීන් වහන්සේ තමෙනඤ්ඤතරො සබ්‍රහ්මචාරී ජණ්ණුකෙන ඝට්ටෙසි: දණිහෙන් පොඩ්ඩක් තට්ටු කලා අර කැස්සක් ආපු ස්වාමීන් වහන්සේට. අප්පසද්දො ආයස්මා හොතු, මායස්මා සද්දමකාසි සත්ථා නො භගවා ධම්මං දෙසෙති. කිච්චා කැගහන්න එපා. ශාස්තෘන් වහන්සේ දහම් දෙසනවා. නිහඬවෙන්න, මේ එක කැස්සක් ගියා කියලා. ඉතින් ස්වාමීනී, තස්ස මය්හං භන්තෙ, මට ඕක ඇහුනා. මට ඒ වෙලාවෙ හිතුනා, අච්ඡරියං වත භො, අබ්භූථං වත භො, ආශ්චර්‍යයියි, අද්භූතයි. අදණ්ඩෙන වත කිර භො අසත්ථෙන එවං සුවිනීතා පරිසා භවිස්සති, බුදුරජාණන් වහන්සේගේ අතේ අවි ආයුධ නෑ, දඬුමුගුරු නෑ. දඬුමුගුරු නැතිවම මගේ බුදුරජාණන් වහන්සේ මෙච්චර ශ්‍රාවක පිරිසක් දමනය කරලා. ඒකනෙ අජාසත්ත රජ්ජුරුවො ජීවක ගෙන්නගෙන යනවනෙ බුදුරජාණන් වහන්සේ බලන්න ජීවක අඹ වනයේ. කලින්ම කියනවා 1250 ක් සංඝයා සමඟ

බුදුරජාණන් වහන්සේ මගේ අඹ වනයේ වැඩ ඉන්නේ යං කියලා. හා කියලා යනවා. එතකොට අඹ වනයේ මුල රථය ඔක්කොම නතර කරලා ඇත්තු, හිමීට ඇත්තුන්ගෙන් බැහැලා ජීවකත් එක්ක වනය ඇතුලට යනවා. ඇතුලට යනවා දැන් රජ්ජුරුවො අඩිය තියන හඬ හැර මුලු ලොවේම කොතැනකවත් හඬක් නෑ. අජාසත්ත හොඳටම බයවුනා. අජාසත්ත ජීවකට කිව්වා, ජීවක උඹ මාව කොටු කලේ නෑ නේද? එතකොට ජීවක කියන්නෙත් බිම්බිසාර රජ්ජුරුවන්ගේ පුතෙක්. අජාසත්ත ඕක දන්නවා. ඉතිං අපිත් අද කාලෙ මේවා දන්නවා නම් අජාසත්ත කොහොමටත් දන්නවානෙ. එතකොට අජාසත්ත හිතුවෙ ජීවක තමාව කැලේට ගෙනල්ලා තාත්තා මරපු පළිය ගන්නත් එක්ක වටකරලා ඉස්සුවා තමයි කියලා. ජීවක උඹ මාව රැවැට්ටුවේ නෑ නේද. රජතුමනි රැවැට්ටුවෙ නෑ. රජතුමාට පේනවා ද අර ඈත පහනක් පේනවා. පේනවා කිව්වා. එතන භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්නෙ. භික්ෂු සංඝයා 1250 ක් වැඩ ඉන්නවා. මීක් ගාන හඬක් නෑ. සියඹලා කොළේ වැටුනත් ඇහෙනවා. ඊටපස්සෙ අජාසත්ත ගිය ගමන්ම තෘෂ්ණිම්භූත වුනා. වටපිට බැලුවා. 1250 ක් සංඝයා සඳඑළියට පේනවා. බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න තැන පහනක් තියෙනවා. එකපාරම කියවුනා මගේ උදයභද්‍රත් මෙහෙම නිහඬවෙනවා නම් කියලා. කියනවා රජතුමාට පුතෙක් ඉන්නවා උදයභද්‍ර. ඒ උදයභද්‍ර කුමාරයා වද දෙනවා දෙමව්පියන්ට. අජාසත්ත තාත්තා මැරුවා. උදයභද්‍රත් තාත්තා මැරුවා. ඒ අජාසත්ත පටන් ගත්ත එක පරම්පරා හතරක් තාත්තලා මරලා රජකම් අරන් තියෙනවා. ඊටපස්සෙ අර ජනී ජනයා එකතු වෙලා ඒ පරම්පරා පන්නලා තියෙනවා. ඒ බිම්බිසාර රජ්ජුරුවන්ගේ මුණුබුරු පරම්පරාව ඔක්කොම පන්නලා අලුත් ඇමති කෙනෙක් රජ කරවලා අලුත් රාජ්‍යයක් ඇති කලා. පාඨලී පුත්‍රයේ. ඊටපස්සෙ එහෙම පස්සෙ කාලෙකට ගිහිල්ලා දනානන්ද කියලා නන්ද රජවරුන් දහ දෙනෙකුට යනවා. ඒකෙ මහා කුම්මැහි ලෝභ රජ කෙනෙක් රජ කරනවා. එයාව පන්නලා තමයි චන්ද්‍රගුප්ත රජවෙන්නෙ. එයාගෙ පුතා තමයි බින්දුසාර. එයාගේ පුතා තමයි ධර්මාශෝක. ධර්මාශෝක අධිරාජ්‍යයාගේ පුත්‍රරත්නය තමයි අපගේ පරම පූජනීය කල්‍යාණ මිත්‍ර, අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේ. පටන් ගත්තු තැන කොතනද? අජාසත්ත රජ්ජුරුවො, නිහඬ බව. නිහඬව ඉන්න සංඝයා දුටුවා. පුදුම වුනා අජාසත්ත රජ්ජුරුවො. එදා තමයි භාග්‍යවතුන් වහන්සේගේ සිරිපා කමල වඳින්න ඇත්තටම අවංකවම ආපු දවස. එදා බුදුරජාණන් වහන්සේ සාමඤ්ඤඵල සූත්‍ර දේශනාව වදාළා. බුදුරජාණන් වහන්සේ එදා සංඝයාට වදාළා අජාසත්ත තාත්තා මරලා තිබ්බෙ

නැත්නම් ඔය ඉන්න ආසනේම සෝවාන් වෙනවා කියලා. තාත්තා මරපු නිසා ඒ හේතු සම්පත්තිය නැතිවුනා. ඉතින් මං කිව්වෙ නිහඬ බවට. ඒ නිසා භාග්‍යවතුන් වහන්සේ ළඟ කවුරුත් හඬ නෑ. එහෙනම් ඔබත් බුද්ධ මන්දිරයකට ගිය වෙලාවකට නිහඬ වෙන්න ඕන. මහාසෑයට, මහාබෝධියට ගිය වෙලාවේ වඳින පුදන ඒ ටික හැර අනිත් තැන්වලදි නිහඬ වෙන්න ඕන. නිකං කසුකුසුවයි, ෆෝන් කනේ තියාගෙන ඇවිදින ඒවයි, කෝල් කර කර ඇවිදින ඒවයි සුදුසුද කියලා හිතන්න භාග්‍යවතුන් වහන්සේ ජීවමානව වැඩ ඉන්නවා නම්. එතකොට ළඟ ඉන්න කෙනා කෝල් එකක් ගත්තත් ඇඟිල්ලෙන් හරි තට්ටු කරලා කියන්න. ඒ කාලෙ නම් කියන්නෙ දණිස්සෙන් තට්ටු කරලා කිව්වෙ, ඒ නිසා ඇඟිල්ලෙන් තට්ටු කරලා කියන්න ඕන. අපි ඇවිල්ලා ඉන්නෙ රුවන්වැලි සෑයට, ඔය ෆෝන් එක පොඩ්ඩක් ඕෆ් කරගන්න. අපි ඇවිල්ලා ඉන්නෙ දළදා වහන්සේ ළඟට, ඔය ෆෝන් එක පොඩ්ඩක් ඕෆ් කරගන්න. මේ බුදුරජාණන් වහන්සේ ළඟ ශ්‍රාවක සංඝයා හිටියෙ ඒ වාගෙ කොන්දක් තියෙන්න ඕනනෙ. තමන්ගෙ පිරිසවත් තමන්ට ඕන විදියට කතා කරලා හදාගන්න බැරි නම් මොකක්ද ඒ ඔයාලගෙ කණ්ඩායම් විදියට යන වන්දනාවෙ යන එකේ තේරුම. ඊටපස්සෙ ඉතින් කියනවා කොසොල් මහාරජ්ජුරුවො ස්වාමීනී, ඔය වාගේ සංඝයා නිහඬයි. මම රජ කෙනෙක් වෙලත් මට මේ විනිසුරු සභාව මට නිහඬ කරගන්න බෑ. භාග්‍යවතුන් වහන්සේ දඬු මුගුරු ගන්නැතිව මේ සංඝයා, මේ සියලු දෙනා දමනය කරලා. සුවිනීත කරලා. ඊටපස්සෙ මට මේ වෙලාවට හිතෙනවා මගේ බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි කියලා. ශ්‍රී සද්ධර්මය ස්වාක්ඛාතයි කියලා. ආර්ය මහා සංඝරත්නය සුපටිපන්නයි කියලා. ඊළඟට රජ්ජුරුවො කියනවා තව කාරණාවක් තියෙනවා. පුන ච පරාහං භන්තෙ පස්සාමි ඉධෙකච්චෙ ඛත්තියපණ්ඩිතෙ නිපුණෙ කතපරප්පවාදෙ වාළවෙධිරූපෙ වොභින්දන්තා මඤ්ඤෙ චරන්ති පඤ්ඤාගතෙන දිට්ඨිගතානි, මේ සමහර ඛත්තියපණ්ඩිත, රජකුලේ ඉන්න වාද කරන මිනිස්සු ඉන්නවා රජ කුලයේ. අනිත් අයත් එක්ක වාද කරනවා, ඒ අය කොච්චර තියුණුව කරුණු කියනවාද කියනවා නම් අස්ලෝමයෙන් අස්ලෝමයට විදිනවා වගේ තියුණු විදියට තමයි එයාලා කතා කරන්නෙ. කතා කරලා වාද මතු කරලා, මතු කරලා වාද හදනවා. ඒ අයට ආරංචි වෙනවා, තෙ සුණන්ති සමණො ඛලු භො ගොතමො අමුකං නාම ගාමං වා නිගමං වා ඔසරිස්සති, අහවල් ගමට ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ වැඩලා කියලා ඔය වාද කරන ඛත්තිය පඬිවරුන්ට, රජ පඬිවරුන්ට ඇහෙනවා. තෙ පඤ්හං අභිසඞ්කරොන්ති, ඒ අය

ප්‍රශ්න හදනවා දැන්. ඉමං මයං පඤ්හං සමණං ගොතමං උපසඞ්කමිත්වා පුච්ඡිස්සාම, මෙන්න මේක ගිහිල්ලා අපි අහමු. එවං චෙ නො පුට්ඨො එවං බ්‍යාකරිස්සති, අපි මෙහෙම කියනකොට උන්වහන්සේ මෙහෙම උත්තරයක් අපිට දෙනවා. එවමස්ස මයං වාදං ආරොපෙස්සාම. ඊටපස්සෙ අපි පටන් ගමු, එහෙම කොහොමද වෙන්නෙ කියලා. එවං චෙපි නො පුට්ඨො එවං බ්‍යාකරිස්සති, ඊටපස්සෙ ඒවට මෙහෙම කතා කරයි. ඊටපස්සෙ මොකද කරන්නෙ, එවම්පිස්ස මයං වාදං ආරොපෙස්සාමා, ඊටපස්සෙ වාදෙ පටන් ගමු. කොහොමද ඒ කාලෙ, මේ ඇත්තටම වෙච්චි දේවල් රජ්ජුරුවො කියන්නෙ. ඊටපස්සෙ ඔන්න එයාලාට ආරංචි වෙනවා අහවල් ගමේ ඉන්නෙ කියලා. ඒ ගමට යනවා. ගිහිල්ලා බුදුරජාණන් වහන්සේ ළඟට යනවා. තෙ භගවතා ධම්මියා කථාය සන්දස්සිතා සමාදපිතා සමුත්තෙජිතා සම්පහංසිතා, බුදුරජාණන් වහන්සේ එයා ළඟට ආවට පස්සෙ බුදුරජාණන් වහන්සේ එයාලට ධර්මය කියනවා. එයාලව ධර්මයෙන් සතුටු කරවනවා. න චෙව භගවන්තං පඤ්හං පුච්ඡන්ති, ඒ අය බුදුරජාණන් වහන්සේගෙන් ප්‍රශ්න අහන්නෙ නෑ. කුතො වාදං ආරොපෙස්සන්ති, මොන වාදයක්ද, හදාගෙන ගිය ප්‍රශ්නෙවත් අහගන්න බැරිවුනා නම්, මොන වාද විවාද කෙරිල්ලක්ද. අඤ්ඤදත්ථු භගවතො සාවකා සම්පජ්ජන්ති, තමනුත් බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් කියලා ප්‍රතිඥා දෙනවා. ගියේ වාද විවාද කරන්න, අවසානයේ ශ්‍රාවකයෙක් වුනා. ඉතින් ස්වාමීනී ඕක ඔන්න ඕවා මටත් ආරංචි වෙනවා. මට පුදුම සතුටක්. බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි. ධර්මය ස්වාක්ඛාතයි. සංඝයා සුපටිපන්නයි කියලා. ස්වාමීනී ඒ විතරක් නෙවෙයි, බ්‍රාහ්මණ පඬිවරු ඔය විදියට වාද ගොතාගෙන එනවා. අවසානෙ ඔබවහන්සේගේ ශ්‍රාවකයො වෙනවා. එතකොට ස්වාමීනී, ගෘහපති පණ්ඩිතවරු එනවා ඔබවහන්සේගේ ශ්‍රාවකයො වෙනවා. ශ්‍රමණ පණ්ඩිතවරුත් එනවා. දැන් ඔය ආවෙ ගෘහපති පණ්ඩිතවරු, සච්චක. සච්චක එහෙම කොහොමද වාද කරන්න ආවෙ. කිව්වා ශ්‍රමණ භවත් ගෞතමයොත් එක්ක මං වාද කරනවා, බලාපල්ලා කිව්වා කරන හැටි. මං වාද කළොත් මේ කණු වලට දාඩිය දානවා කිව්වා, කණු හෙල්ලෙනවා කිව්වා. ශ්‍රමණ භවත් ගෞතමයන් එක්ක මං වාද කරනකොට දාඩිය දායි කිව්වා බලාගෙන ඉද්දින්න. යමල්ලා බලන්න මාත් එක්ක කියලා පිරිසත් එකතු කරගෙන ගියා. ඉතින් පිරිසත් එකතු කරගෙන ගිහිල්ලා බුදුරජාණන් වහන්සේගෙන් ඇහුවා ඔබ වහන්සේ කොහොමෙයි බණ කියන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා රූපය අනාත්මයි, වේදනාව අනාත්මයි, සංඥාව

අනාත්මයි, සංස්කාර අනාත්මයි, විඤ්ඤාණ අනාත්මයි. දැන් එයා ඔයා ඕක හදාගෙන ආවෙ, අනාත්මයි කිව්වොත් කියන්නම් කියලා. ඊටපස්සෙ සච්චක කිව්වා මොන අනාත්මයක් ද, අනාත්ම කියන්නෙ තමන්ගේ වසඟයේ පවත්වන්න බෑ. එතකොට සච්චක කිව්වා නෑ එහෙම කොහෙද ආත්මය වසඟයේ පවත්වන්න පුලුවන්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ අහනවා, සච්චක, සත්‍යය වචනයේ ඉඳලා කතා කරනවා නම් මට ඔතනින් එහාට කතා කරන්න පුලුවන්. හරි ඕන එකක් කිව්වා. එහෙනම් සච්චක කියාපං මේ අපේ මහරජ්ජුරුවන්ට, කොසොල් මහරජ්ජුරුවන්ට ඕන කෙනෙක් මරන්න, ඕන කෙනෙක් රටින් පිටුවහල් කරන්න, දඬුවම් කරන්න රජ්ජුරුවන්ට ඕන විදියට කරන්න පුලුවන්ද. ඊටපස්සෙ කිව්වා රජ්ජුරුවන්ට ඕන විදියට කරන්න පුලුවන්. සච්චක ඔය විදියට රූපයට තමන්ට ඕන විදියට නියෝග පනවලා රූපය තමන්ගේ වසඟයේ පවත්වන්න පුලුවන් ද. ඊටපස්සෙ නිහඬ වුනා. දැන් අනිවාර්යයෙන්ම ඒකට උත්තරේ බෑ කියන එකනෙ. එතකොට නිහඬ වුනා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඇහුවා සච්චක කියාපං. ඉතින් තුන්පාරක් විතර කිව්වා, සච්චකට කතා නෑ. ඊටපස්සෙ වජ්‍රපාණි යක්ෂයා ආකාසෙ ඉඳලා කල්පනා කලා මේ සච්චකයා බුදුරජාණන් වහන්සේ වෙහෙසට පත්කරවනවා. ඕක දැන් හතරවෙනි පාරටත් භාග්‍යවතුන් වහන්සේ අහන එකට උත්තර දුන්නෙ නැත්නම් මං ඕකගෙ ඔළුව කුඩු කරනවා කියලා මහා විශාල යගදාවක් අරන් ආකාශෙ ඉඳලා දීපිය උත්තර කියලා දැන් හිටියා. එතකොට වජ්‍රපාණි යක්ෂයා සච්චකට පේනවා, බුදුරජාණන් වහන්සේට පේනවා. ඊටපස්සෙ සච්චක ඒක දැකලා දාඩිය දාන්න ගත්තා. ඇහුවා ස්වාමීනී මොකක්ද ඇහුවෙ, දැන් මෙයාට ප්‍රශ්නෙත් මතක නෑ. බුදුරජාණන් වහන්සේ ඇහුවා මේ රූපය තමාගේ වසඟයේ පවත්වන්න පුලුවන්ද, බෑ කියලා කිව්වා. සච්චක කල්පනාවෙන් උත්තර දීපන්, උඹ දැන් ඉස්සෙල්ලා කිව්වෙ මොකක්ද, දැන් කියන්නෙ මොකක්ද. ඊටපස්සෙ අවසානෙ දාඩිය දානවා. සච්චකගේ ඇඟෙන් දාන දාඩිය සලුවට වැටෙනවා. සලුව තෙත්වෙලා බිම තෙත් වෙනවා. කොච්චර දාඩියක් දාන්න ඇතිද. බුදුරජාණන් වහන්සේ කිව්වා සච්චක මේ බලාපං කියලා සිවුර මෑත් කලා. දැන් බලාපං කිව්වා තථාගතයන් වහන්සේගේ ශරීරයේ දාඩිය බින්දුවක්වත් තියෙනවාද කියලා. උඹගේ බලාපං නළලෙන් වැටෙන දාඩිය සළුවට වැටෙනවා. සළුවෙන් වැටෙන දාඩියෙන් තෙත් වෙලා තියෙන හැටි. දැන් බලාපං කිව්වා. කොහොමද ඒ කාලෙ. උත්තර නෑ පින්වත්නි බුදු කෙනෙක් එක්ක කතා කරනකොට. හැබැයි ඒ සච්චක දමනය වුනා. ඒ සච්චකයන්

බලන්න බුදුරජාණන් වහන්සේ එක්ක වාද කරන්න ගිය සච්චකයන් දමනය වෙලා සුගතියේ ඉපදිලා අපේ ලංකාවේ ඉපදිලා මහණ වෙලා රෑ එළිවෙනකල් බුදුගුණ කියපු තෙරුන් වහන්සේ වුනා. කවුද ඒ? කාලබුද්ධරක්ඛිත. කළුදිය පොකුණේ රෑ එළිවෙනකල් කාලාකාරම සූත්‍රයෙන් බුදුගුණ කිව්වෙ ඒ සච්චකයන්. පස්සෙ කාලෙ ඉපදිලා. ඉතින් බුදුරජාණන් වහන්සේ ළඟට වාද විවාද කරන්න එන අයට වෙන දේවල්. ශ්‍රමණ පණ්ඩිතවරු එනවා, එයාලා ඇවිල්ලා වාද කරන්න, බුදුරජාණන් වහන්සේ ළඟම මහණ වෙනවා. බුදුරජාණන් වහන්සේ ළඟට කොච්චර තාපසයො ආවද, ඒ ඔක්කොම මහණ වුනානෙ. ඊටපස්සෙ එයාලම පස්සෙ කියනවා අනේ අපි ඉස්සෙල්ලා රහත් නොවී ඉඳලා, ඇයි දැන් උරුවෙල් කාශ්‍යප, ගයා කාශ්‍යප, නදී කාශ්‍යප තාපස ශ්‍රමණ පණ්ඩිතවරුනෙ. අපි ඉස්සර ශ්‍රමණයො නොවී ඉඳලමයි ශ්‍රමණයො කිව්වෙ. දැන්නෙ අපි ශ්‍රමණයො. ඉස්සර රහත් නොවී ඉඳලමයි රහත් කිව්වෙ. දැන්නෙ අපි ඇත්තටම අර්හත්වයට පත්වුනේ කියලා ඒ අය බුදුරජාණන් වහන්සේටම වර්ණනා කරනවා මට මේවා අහනකොට දකිනකොට හිතෙනවා බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි. ශ්‍රී සද්ධර්මය ඒකාන්තයෙන්ම ස්වාක්ඛාතයි, සංඝයා සුපටිපන්නයි කියලා. ඉතින් ස්වාමීනි භාග්‍යවතුන් වහන්ස මට තවත් කාරණාවක් තියෙනවා කියන්න, මේ ඉසිදත්ත පුරාණ අයියලා මල්ලිලා දෙන්නා, ඉසිදත්ත පුරාණ වඩු බාසුන්නැහැලා දෙන්නෙක් ඉන්නවා ඉසිදත්ත පුරාණ. මමහත්තා මමයානා, මං නිසාමයි යාන වාහන පාවිච්චි කරන්නෙ. මම නිසාමයි එයාලා කාලා බීලා ඉන්නෙ. මං යටතේ වැඩ කරන අය. අහං නෙසං ජීවිතස්ස පදාතා යසස්ස ආහත්තා, මම නිසාම ජීවත් වෙලා ජීවිතේ ගෙනියන අය. අථ ච පන නො තථා මයි නිපච්චාකාරං කරොන්ති යථා භගවති, ඒ වුනාට බුදුරජාණන් වහන්සේට තරම් නම් මට ගරු කරන්නෙ නෑ ඒ අය. ස්වාමීනී දවසක් මම ගොඩාක් දුර ඈත ගමකට ගිහිල්ලා එක්තරා ස්ථානයක රාත්‍රියේ අසුන්ගත්තා, නිදාගත්තා එක අම්බලමක. ඉතින් ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, රෑ වුනා. ඊටපස්සෙ මේ දෙන්නා ගොඩාක් වෙලා දහම් කතා කර කර හිටියා. දැන් මමත් ඉන්නවා. ඊටපස්සෙ දහම් කතා කර කර ඉඳලා එතකොට මම හාන්සි වුනා. මම හාන්සි වුනාට කල්පනාවෙන් හිටියේ මේ දෙන්නා මොනවද මේ කතා කරන්නෙ, කොහොමද කටයුතු කරන්නෙ. ඊටපස්සෙ ස්වාමීනී බොහෝ වේලාවක් දහම් කතා කර කර ඉඳලා මේ ඉසිදත්ත පුරාණ දෙන්නා, අයියයි මල්ලියි දෙන්නා, ඊටපස්සෙ මොකද කළේ. බුදුරජාණන් වහන්සේ ඉන්න දිශාවට හොඳට වන්දනා කරලා ඒ පැත්තට හිස දාලා මගේ

පැත්තට කකුල් දාලා නිදාගත්තානෙ කිව්වා. ඉතින් භාග්‍යවතුන් වහන්ස මට පුදුම හිතුනා, මම නිසාම ජීවත් වෙලා ඒ විදියට කරන එක ගැන. එතකොට මට හිතුනා මේ ශ්‍රාවකයො දෙන්නා බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ මොනවාහරි විශේෂයක් ලබලා තියෙනවා. ඇයි ඉතින් ජීවිතේ දෙවැනි තැනට තියාගෙනනෙ. ඇයි රජ්ජුරුවො නැගිටලා කිව්වොත් තෝ මගේ පැත්තට කකුල දැම්මා, බෙල්ල කපනවා කියලා, ඉතින් ඒ ජීවිතේ අත්හැරලානෙ බුදුරජාණන් වහන්සේ ඉන්න පැත්තට හිස දැම්මෙ. රජතුමාගේ පැත්තට කකුල් දැම්මෙ. කොහොමද ශ්‍රද්ධාව කියලා හිතන්නකො. රුවන්වැලි සෑයට ගිහිල්ලත් බලන්නකො රුවන්වැලිසෑයට කකුල් දෙක දික් කරනවානෙ. ජයසිරිමහා බෝධීන් වහන්සේට කකුල් දෙක දික් කරනවානෙ. බණක් අහනකොට හාමුදුරුවො දිහාට කකුල් දෙක දික් කරනවානෙ. කියන්නකො ශ්‍රද්ධාවක් තියෙනවාද කියලා. බණ කියන්න කලින් ඕවා කියන්න ගියාට පස්සෙ බණක් කියාගන්න එන්නෑ. ඒ නිසා කරබාගෙන ශ්‍රද්ධාවෙන් අහන කෙනෙකුට බණක් කියලා කරබාගෙන එනවා. කකුල් දික් කරනවා කියන්නෙම නම් අශ්‍රද්ධාවමයි. ඒ නිසා සංඝයා ඉන්න පැත්තට, සෑයක් පැත්තට, කකුල් දික් කරන්න හොඳ නෑ. අර එක අම්මා කෙනෙක් රුවන්වැලිසෑයෙ සිල් අරන් ඉඳලා කකුල් දික් කරගෙන ඉඳලා ඒ කරුමෙටම මැරිලා ඉපදුනානෙ යම්කිසි භූතාත්මෙක, ප්‍රේතාත්මෙක. ඒ ප්‍රේතයා ආවේශ වෙලා කියනවානෙ. මහාසෑයට කකුල් දික් කරපු නිසයි මං ඉපදුනේ මෙහෙම කියලා. දික් කරන්න එපා පා තුණුරුවන් දිසාවට. ඉතින් ඒ නිසා ස්වාමීනී මේ ගිහි දෙන්නා දැකලාම මට හිතුනා මගේ බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි, ශ්‍රී සද්ධර්මය ස්වාක්ඛාතයි. ආර්ය මහා සංඝරත්නය සුපටිපන්නයි කියලා. ඉතින් ස්වාමීනී වෙනත් කාරණාවක් තියෙනවා. භගවාපි ඛත්තියො අහම්පි ඛත්තියො, බුදුරජාණන් වහන්සේත් රජ කුලයේ, මමත් රජ කුලයේ. භගවාපි කොසලකො අහම්පි කොසලකො, භාග්‍යවතුන් වහන්සේතේ කොසොල් ජනපදයේ කෙනෙක්, මමත් කොසොල් ජනපදයේ කෙනෙක්. මට ඒක හරි ආඩම්බරයි. භගවාපි ආසීතිකො, අහම්පි ආසීතිකො, මගේ බුදුරජාණන් වහන්සේත් අසූවෙනි වියේ, මමත් අසූවෙනි වියේ. යම්පි භන්තෙ භගවාපි ඛත්තියො, ඒ නිසා ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේයි මමයි දෙන්නම රජ කුලයේ, අපි දෙන්නම එක වයසේ, අපි දෙන්නම කොසොල් ජනපදයේ. ඉතින් ඕකටත් මට හරියට පැහැදීම තියෙනවා. ඒ නිසා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මේ කාරණයෙනුත් මම මාගේ බුදුරජාණන් වහන්සේට මෙච්චර ආදරෙයි, සෙනෙහසයි, මට පුදුම ගෞරවයක් මගේ

ශාස්තෘන් වහන්සේ ගැන තියෙන්නෙ. කියලා වන්දලා කලා ආයෙත් සිරිපා ළඟ. වැඳලා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස ඉතින් අපිට ගොඩාක් කටයුතු තියෙනවානෙ, මං පිටත් වෙන්නම් කියලා පිටත් වුනා. ඊටපස්සෙ අථ ඛො භගවා අචිරපක්කන්තස්ස රඤ්ඤො පසෙනදිස්ස කොසලස්ස භික්ඛූ ආමන්තෙසි, කොසොල් රජ්ජුරුවො ගිහිල්ලා ටික වෙලාවක් වුනාට පස්සෙ බුදුරජාණන් වහන්සේ සංඝයාට වදාළා, එසො භික්ඛවෙ රාජා පසෙනදි කොසලො ධම්මචෙතියානි භාසිත්වා උට්ඨායාසනා පක්කන්තො, පින්වත් මහණෙනි, අර කොසොල් මහාරජ්ජුරුවො ධර්ම චෛතියක් කියලා ගියා. දහම් ස්තූපයක් කියලා ගියෙ. ඒ කියන්නෙ පිදිය යුතු දහම් කොට්ඨාශයක්, පිදිය යුතු දහමක්, සිහි කළ යුතු දහමක් කියලා ගියෙ. උග්ගණ්හාථ භික්ඛවෙ ධම්මචෙතියානි, මේ ධම්මචේතිය ඉගෙන ගන්න. පරියාපුණාථ ධම්මචෙතියානි, මේක කටපාඩම් කරගන්න. ධාරෙථ භික්ඛවෙ, මතක තියාගන්න. ධම්මචෙතියානි, මේ ධම්මචේතිය සූත්‍රය. අත්ථසංහිතානි භික්ඛවෙ ධම්මචෙතියානි ආදිබ්‍රහ්මචරියකානී, මේ ධම්මචේතිය ඔබගේ නිවනට උපකාරී වෙනවා කිව්වා. මෙන්න පහදින ආකාරය ධර්මානුකූලව. ඉතින් කොසොල් මහාරජ්ජුරුවො එළියට යනකොට එක දාසියක් තියලා, අර දීඝකාරායන ඔටුන්නයි ආභරණයි ඔක්කොම අරන් පැනලා. දීඝකාරායන තරහෙන් හිටියේ රජ්ජුරුවන්ට. ඉතින් කොසොල් මහාරජ්ජුරුවො ඈතට ගිහිල්ලා එක අම්බලමක අර දාසියගේ ඔඩොක්කුවෙ ඔලුව තියාගෙන රාත්‍රියෙ නිදාගත්තා, අවුරුදු අසූවෙනි වියේදි. එදා රෑම අම්බලමෙම මැරුණා. රජවරුත් අම්බලම් වල මැරෙනවා පින්වත්නි. අපේ ජීවිත කොහේ කොහේ කොයි තැන්වල මැරෙයිද කියලා කවුද දන්නෙ. නමුත් දහම් චේතියක් හැදුවා. මම හිතන්නෑ කොසොල් මහාරජ්ජුරුවන්ගේ පරලොව ජීවිතේ සුළුදෙයක් කියලා. ඉතින් ඒ නිසා මෙන්න බුදුගුණ හිතලා පහදින තැන්. ඒ නිසා ඔබත් පහදින්න. ඔබගේ ජීවිතෙත් දහම් චේතියක් ගොඩනගාගන්න වාසනාව ලැබේවා. ධම්මචේතිය සූත්‍රය පිරුවානා පොත් වහන්සේගේ තියෙනවා. මහමෙව්නාවෙ පිරුවානා පොත් වහන්සේගේ පරිවර්තනයත් එක්කම තියෙනවා. හොඳට කියවන්න. හරී වැදගත්, හරී සුන්දර හිත පහදින සූත්‍ර දේශනාවක්. මහා සෑය ළඟදින් පාලියෙන්, සිංහලෙන් කියන්න ඇත්නම් හරි අගෙයි. ගෙදර නිතර කියන්න ඇත්නම් හරි අගෙයි. බුදුගුණනෙ. ඉතින් ඒ නිසා අද අපි ඒ ධම්මචේතිය සූත්‍ර දේශනාව ඒ විදියට කතා කලේ. භාග්‍යවතුන් වහන්සේ ධර්මානුකූලව සරණ යන හැටි, රජවරු බුදුගුණ වැනුව හැටි.

ඉතින් අසිරිමත් සම්බුදු සරණ අද දහම් වැඩසටහනින් ඒ රැස් කරගන්නට යෙදුනා වූ සියලූම පුණ්‍ය බලය, ඒ වාගේම අපි කවුරුත් රැස් කරගත්ත පින් බලය, ඒ වගේම බුදුරජාණන් වහන්සේගේ අනන්ත සම්බුදු ගුණයේ බලය, ශ්‍රී සද්ධර්මයේ ස්වාක්ඛාත බලය, සංඝයාගේ සුපටිපන්න ගුණ බලයේ ආනුභාවයෙන් අපගේ මව්රටටත්, ලෝකයටත් සෙත් වේවා. මේ මිනිස්සුන්ට ලෙඩක් දුකක් කරදරයක් පීඩාවක් නැතිව සුවසේ ජීවත් වෙන්න වාසනාව ලැබේවා. ඒ වගේම රැස් වූ සියලු පින් සියලු දෙවියන්ට අනුමෝදන් වී මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. 2019 ජූලි 20 වෙනි දින මියපරලොව ගිය රණසිංහ ජයරත්න පියාණන්ට මේ පින් අනුමෝදන් වේවා. මියපරලොව ගිය කවුරුත් ඔබගේ ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා. පරම පූජනීය ගුරුදේවොත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අප්‍රමාණ පින් සැලසේවා. අපේ ස්වාමීන් වහන්සේලා ලවා නිතර මේ ධම්මචේතිය සූත්‍රය නිතර පාලියෙන් සිංහලෙන් සජ්ඣායනා කරලා සංඝයාට ලොකු ස්වාමීන් වහන්සේ මේවා හුරු කලා. ඉතින් හරියට බලවත් විදියට තුණුරුවන් ගැන පැහැදීම ඇතිවෙන්න අනුග්‍රහය කලා. ඉතින් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා ඉගෙන ගත්තු ධර්මය තමයි අපි මේ ගුරු ආශිර්වාදෙන් මේ ඔබට කියන්නෙ. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සකල සඟරුවනට අනගාරිකා මෑණිවරුන්ට පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් බලයෙන් ගෞතම බුද්ධ ශාසනයේ ධර්මාවබෝධය සැලසේවා. අද දවසේ ධර්ම දානය සිද්ධ කරන නො.51/7, ඇල්වල, උකුවෙල පදිංචි පින්වත් ශිරෝන් ජයරත්න මහත්මයාට, හංසික තුංගරත්න මහත්මයාට, ප්‍රසාද් චතුරංග මහත්මයාට, ක්‍රිෂාන්ති ජයරත්න මහත්මියට, ඉන්ද්‍රාමැණිකේ මහත්මියට සහ කාන්ති සුභසිංහ මහත්මිය සහ පවුලේ සියලූදෙනාට මේ පින් අනුමෝදන් වේවා. ඒ වගේම ජූලි මස 14 වෙනි දින උපන්දිනය තිබෙන හිමායා තුංගරත්න සහ අමායා තුංගරත්න දියණිවරුන්ට මේ පින් අනුමෝදන් වී ඒ දියණියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා. ඒ වගේම අධ්‍යාපන කටයුතු සාර්ථක වේවා. ඒ වගේම බුදුරජාණන් වහන්සේ ගැන ගොඩාක් පැහැදීම මේ දරුවන්ට ඇතිවේවා. ශාසනයේ පිහිට ලැබේවා. අනාගත ජීවිතේ නොමඟට නොවැටී සුමඟින් සුරැකේවා. තුණුරුවන්ගේ ආශිර්වාදයෙන් මනුස්ස ජීවිතේ බොහෝ කුසල් රැස් කරගන්න මේ දියණිවරුන්ට වාසනාව ලැබේවා. ඉතින් ධර්ම දායකත්වය දැරූ සියලු දෙනාටත්, ඒ පවුල්වල සියලු දෙනාටත් මේ

පින් බලයෙන් සියලු යහපත සැනසිල්ල ධර්මාවබෝධයම සැලසේවා කියලා පින් පමුණුවනවා. ඔබ කාටත් මව්දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් සියලුදෙනාට මේ පින් අනුමෝදන් වේවා. ඒ වාගේම ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයට, ඒ වගේම දායකත්ව දරන සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. අපි කාටත් සසර දුකින් අත්මිදෙන්න මේ සියලු පින් හේතු වාසනා වේවා, තෙරුවන් සරණයි. නමෝ බුද්ධාය.

https://www.youtube.com/watch?v=SJ3VVLi76O4&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=59

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන තුළින් අපගේ පරම පූජනීය ශාස්තෘන් වහන්සේ වන ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ මුළු හදවතින්ම සරණ යෑමේ වටිනාකම ගැනයි ඔබ අසන්නෙ. ඉතින් පින්වතුනි අද මේ උතුම් දහම් වැඩසටහන ශ්‍රද්ධා රූපවාහිනියෙනුත්, ලක්විරු ගුවන්විදුලියෙනුත් පටිගත කොට විකාශනය කරවන්නට දායකත්වය දරන්නෙ කුලියාපිටියේ පදිංචි පින්වත් මිගාර දසනායක මහත්මයා, ඉහළකොස්වත්ත, කඩිගමුවේ පදිංචි පින්වත් කාන්ති, පද්මිණී, නයනා, සමන්ති, රේණුකා, නිමාලි, ගයාන්, මාලනී, තරිඳු සහ සුනිල් යන මහත්ම මහත්මීන් ඇතුළු බෝවත්ත මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ පින්වතුන් විසින් අද දවසේ මේ ධර්ම දේශනාව පටිගත කරන්නෙ. ඉතින් මේ පින්වතුන්ට වාසනාව ලැබෙනවා තථාගත බුදුරජාණන් වහන්සේ කෙරෙහි පහැදීම පිළිබඳව මේ කරන දහම් විවරණය තුළින් ධර්මදානය රැස්

කරගන්න. ධර්මදානයේ කොටස්කරුවන් බවට පත්වෙන්න. දැන් මට මතකයි ඉස්සර එක අපදානයක තියෙනවා, ඉස්සර ඒ රහතන් වහන්සේලාගේ කතාවල තියෙනවා, එක තෙරුන් වහන්සේ නමක්, මගේ හිතේ පොඩියි, සාමණේරයි. උන්වහන්සේ මහණ වුනා, එතකොට බණ භාවනා කරගන්න බෑ. ඊටපස්සෙ ඒ තෙරුන් වහන්සේ කලේ ආරාමෙ මල් හදනවා, ඊටපස්සෙ ලස්සන කරනවා, අතුපතු ගානවා, වැඩිහිටි සංඝයාට උපස්ථාන කරනවා, ඔහොම ඉඳලා ඒ අතරෙ අඩු වයසින් අපවත් වුනා. අපවත් වෙලා ඒ ගමේම ඉපදුනා, ඒ අවට ගමක, මනුස්ස ලෝකෙ. ඉතින් මේ දරුවා පුංචි කාලෙ ඉඳලම ආස දෙයක් තමයි බණ අහන්න. එතකොට මේ දරුවා දැන් පුංචි කාලෙම අම්මලාට තාත්තලාට කියලා අපි මේ ස්වාමීන් වහන්සේ නමක් වඩම්මලා බණ කියමු ගමේ කියලා, ඉතින් දරුවාගේ පෙරළත්තය නිසාම සංඝයා වහන්සේ නමක් වඩම්මලා ගමටම බණක් කියෙව්වා. දැන් ඔයාලා මේ ධර්ම දානය දෙන්නෙ ඒ වගේ. ඉතින් ගමටම බණ කියෙව්වා. ඊටපස්සෙ මොකද වුනේ. ආයෙ ළමයා දැන් ටිකක් ලොකු වෙනවා. ආයෙත් ළමයාට ආසයි බණක් කියන්න. ඊටපස්සෙ ආයෙත් තෙරුන් වහන්සේ නමක් වඩම්මලා බණ කියෙව්වා. ඔය වගේ අවුරුද්දෙන් අවුරුද්ද වගේ ධර්ම දේශනා හතක් ගමේ කෙරෙව්වා. ඊටපස්සෙ ඒත් අඩුවයසින් මැරුණා. සමහරවිට අඩුවයසින් මැරෙන්න මොකක්හරි කර්මයක් කරලා. ඊළඟට ආයෙත් සංඝයා ඉන්න තැන මනුස්ස ජීවිතයක් ලැබුවා. ඊටපස්සෙ එයා අවුරුදු හතෙන් අර ඒ පොඩි ළමයට මහණ වෙන්න ආසයි. පැවිදි වුනා. පැවිදි වෙලා කෙස්බානකොටම අර්හත්වයට පත්වුනා. ඉතින් ඒ රහතන් වහන්සේ තමන්ගේ ජීවිතේ අපදානයේ තමයි ඔය විස්තර කියන්නෙ. මම මෙහෙම ධර්ම දාන හතක් කෙරෙව්වා කියලා. එයා බණ කියලා නෙවෙයි, කරවලා. එතකොට ධර්ම දානයක් දෙන එකේ විපාක බලන්න. ඉතින් ඒ නිසා ඉතින් අද දවසේ අපි බුදුරජාණන් වහන්සේ ගැන කතා කරමු. බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ කඳ වචනයෙන් නම් කියලා නිමාකරන්න බෑ. වචනයෙන් කියලා නිමා කරන්න බෑ. සාමාන්‍යයෙන් මේ මිහිමඩල පොතක් කරලා, මිහිමඩල, මුළු පෘථිවියම දිගාහරිනවා පිටුවක් විදියට. ඊටපස්සෙ බුදුගුණම ලියනවා. ඊටපස්සෙ මදි දැන් මේක. ආයෙත් පෘථිවියේ ප්‍රමාණයට දිග හැරපු කොලේක ආයෙත් බුදුගුණ ලියනවා. කවුරුහරි කිව්වොත් එහෙම මේ විදියට පිටු ගොඩකරලා අකනිටා බ්‍රහ්ම ලෝකය දක්වා බුදුගුණ ලිව්වොත් එහෙම එතකල් බුදුගුණ තියෙනවා. අකනිටා බඹලොව දක්වාම කොළ ගොඩ වෙනවා බුදුගුණ ලියන්න ගියොත් කියලා එයා බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ ගැන තේරුමක් නැති කෙනෙක්.

මක් නිසාද, එයා ප්‍රමාණයක් කිව්වා. මොකක්ද කියපු ප්‍රමාණය. මේ පෘථිවිය වගේ කොළ අකනිටා බ්‍රහ්මලෝකය දක්වා ගොඩ ගැහුවොත් බුදුගුණ ලියන්න පුලුවන් කියලා ප්‍රමාණයක් කිව්වා. එතකොට සත්‍යය මොකක්ද? බුදුගුණ ප්‍රමාණයක් නෑ. අප්‍රමාණයි. අනන්තයි අප්‍රමාණයි බුදුගුණ. කියලා නිම කරන්න බෑ. අපි දැන් දින කීපයකට කලින් සම්පසාදනී සූත්‍රය ඇහුවා. එතකොට සම්පසාදනී සූත්‍රයේ කියනවා දක්ෂ දොරටු පාලකයෙක් කල්පනා කරනවා දැන් ප්‍රාකාරයේ කිසිම සිදුරක් නෑ, නගරයට ඇතුල් වෙන්න බෑ. එතකොට එතනින් යන එය දකිනකොට, එතනින් අනිවාර්යයෙන් දොරටුවෙන්ම යන්න ඕන, දොරටුවෙන්ම එන්න ඕන. එතකොට දක්ෂ දොරටුපාලකයා කල්පනා කරනවා මෙතනින්මයි යන්න තියෙන්නෙ, මෙතනින්මයි ඇතුල් වෙන්න තියෙන්නෙ. ඉතින් ඒ වගේ සාරිපුත්ත මහරහතන් වහන්සේ ඒ වගේ කියනවා. සාරිපුත්ත මහරහතන් වහන්සේට මේ ගුණ සිහිකරන කොට, සිහිකරන කොට හිතෙනවා කියනවා බුදුරජාණන් වහන්සේ හැර වෙන කෙනෙක් නම් නෑ කියලා. හැබැයි ඒත් අර දොරටුපාලකයා යන එන අය දිහා බලලා කිව්වා වගේ. නමුත් දොරටුපාලකයා නගරයේ ඇතුලේ තියෙන දේවල් ඔහු දන්නෙ නෑ. ඒ වාගේ සාරිපුත්ත මහරහතන් වහන්සේ තමන්ගේ නුවණට හසුවෙච්චි බුදුගුණ ටික කිව්වෙ. බුදුරජාණන් වහන්සේ නොකී බුදුගුණමයි වැඩි. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ ගැන පැහැදීමක් ඇති කරගන්නට ඕන, ඒ බුදුරජාණන් වහන්සේ ගැන ඇතිවන පැහැදීම බොහෝ කල් හිතසුව පිණිස පවතිනවා. දැන් බලන්න ඉස්සර තිබ්බා ශ්‍රාවකයන්ට පුදුම පැහැදීමක්. ඉස්සර තියෙනවානෙ බුදුරජාණන් වහන්සේ කෙටියෙන් ධර්මය දේශනා කරනවා. ඉතින් සංඝයා ගිහිල්ලා ඒක අහනවා කච්චායන මහරහතන් වහන්සේගෙන්. අනේ ස්වාමීනී කියලා දෙන්න මේක. ඉතින් කියනවා ආයුෂ්මතුනි, සො හි ආවුසො භගවා ජානං ජානාති, ආයුෂ්මතුනි භාග්‍යවතුන් වහන්සේනෙ දන්න දේවල් දන්න කෙනා. පස්සං පස්සති, දැක්ක යුතු දේවල් දකින කෙනා. ධම්ම භූතො, උන්වහන්සේනෙ ධර්මයෙන් උපන් කෙනා. බ්‍රහ්ම භූතො, උන්වහන්සේනෙ ශ්‍රේෂ්ට වූ කෙනා. ඊළඟට වත්තා, පවත්තා. මේ ධර්මය ප්‍රවර්තනය කරන කෙනා. අත්තස්ස නින්නෙතා, අර්ථය වැටහෙන්නෙ උන්වහන්සේටනෙ. ඥාණභූතා, ඥාණයෙන් උපන් කෙනානෙ. ඊළඟට ධම්මස්වාමී තථාගතො, ධර්ම ස්වාමී තථාගතයන් වහන්සේ නේද ධර්මයට ස්වාමියා. ඉතින් ඒ නිසා ඒ තථාගතයන් වහන්සේගෙන් අහන්න තිබ්බානෙ. ආයුෂ්මතුන් වහන්සේලා බුදුරජාණන් වහන්සේ වැඩ ඉදිද්දින් එතනින් එහාට අහන්නැතිව ඇයි මං ළඟට

ආවෙ. අරටුවක් හොයාගන්න කැමැති කෙනා ගස් වල අතු කොළ ටික අරටුව තියෙද්දි, එලය තියෙද්දි කොළ අතු වලින් අරටුවක් හොයනවා වගේ මං ළඟට ඇවිල්ලා. කොහොමද රහතන් වහන්සේලාගේ බුදුගුණ ගැන තියෙන ශ්‍රද්ධාව, බුදුරජාණන් වහන්සේ ගැන. රහතන් වහන්සේගේ නමක්ගෙ ජීවිතේ උන්වහන්සේලා කොළ අතු වලට දැම්මා, බුදුරජාණන් වහන්සේ වෘක්ෂයේ අරටුව කලා. ඊටපස්සෙ කියනවා අනේ ආයුෂ්මතුනි ඒක නම් ඇත්ත. ශාස්තෘන් වහන්සේ නෙව දන්න දේ දන්න කෙනා. දකින දේ දකින කෙනා. උන්වහන්සේනෙ ධර්මයෙන් බිහිවුන, ඥාණයෙන් බිහිවුන ශ්‍රේෂ්ට උත්තමයා. ධර්ම චක්‍රය ප්‍රවර්තනය කරන්නෙ උන්වහන්සේනෙ. උන්වහන්සේ තමයි ධර්ම ස්වාමී තථාගතයන් වහන්සේ. නමුත් ආයුෂ්මතුනි තථාගතයන් වහන්සේම අපිට කියලා තියෙනවා, මේ කච්චායන කෙටියෙන් වදාළ දේ විස්තර වශයෙන් විභාග කරන්න දක්ෂයි කියලා. අනේ ඒ නිසා ඔබවහන්සේ ළඟට ආවෙ කියනවා. එතකොට ආයෙ කච්චායන මහරහතන් වහන්සේ නිහඬයි, හොඳයි ආයුෂ්මතුනි කන් යොමුකරගෙන අහන්න කියනවා. උන්වහන්සේ ලස්සනට විස්තර කරනවා ධර්මය. ඒ සංඝයාට පුදුම ප්‍රීතියෙන් යනවා. බුදුරජාණන් වහන්සේ සක්මන් කරනවා දකිනවා. ආපහු යනවා බුදුරජාණන් වහන්සේ ළඟට. මොකද පින්වත් මහණෙනි, ඉතාමත් සතුටු මහණීන්. ස්වාමීනී අර අපි ඉගෙන ගත්තු දහම් කරුණ විස්තර විභාග වශයෙන් ඉගෙන ගත්තා. කොයි විදියටද ඉගෙන ගත්තෙ. අර ඔක්කොම කියනවා. සාදු සාදු පින්වත් මහණෙනි, මගෙන් ඔය කාරණා ඇහුවා නම් ඔය විදියටමයි කියනවා මාත් උත්තර දෙන්නෙ. පුදුම බුද්ධ ශාසනයක්. පුදුම බුදු සසුනක්. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේට පහදින්න. අප්‍රමාණ පහදින්න. පින්වතුනි මම, දැන් මිලිඳුරාජ ප්‍රශ්නයේ අපිට වැඩසටහන් විදියට කරන්න පුලුවන් වුනානෙ. එතකොට ඒක කියලා කියවගෙන යනවා, කියවගෙන යනවා එතකොට මට පුදුමයි, නාගසේන මහරහතන් වහන්සේ දෙන උත්තර. ඊටපස්සෙ මිලිඳු රජ්ජුරුවෝ අහන ප්‍රශ්න. දැන් මේක බොහෝ කාලයක් දැන් මේ ධර්ම සාකච්ඡාව යනවා. එතකොට මට ආසයි අහන්න, මට ආසයි දැනගන්න, මෙච්චර බණ අහලා රජතුමාට අවසානෙ මොකක්ද වෙන්නෙ කියලා. මෙච්චර බණ අහලා රජතුමා අවසානෙට මොකක්ද කරන්නෙ, ස්වාමීනී මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා සරණ යනවා. ධර්මය සරණ යනවා කියලා සරණ යනවා. සංඝ රත්නය සරණ යනවා කියලා සරණ යනවා. මහණ වෙන්නෙත් නෑ බණ අහපු ගමන්. තෙරුවන් සරණ ගියා. ඊටපස්සෙ තෙරුවන් සරණ ගිහිල්ලා ශ්‍රාවකයෙක් විදියට, ගිහි

ශ්‍රාවකයෙක් විදියට කරන්න ඕන විදියට නාගසේන මහරහතන් වහන්සේට මිලිඳු රජ්ජුරුවන්ගේ නමින් ආරාමයක් හදනවා. විශාල සඟ පිරිසකට පහසුකම් හදලා උන්වහන්සේ පැවිදි වෙනවා. ඊටපස්සෙ තමයි රජකම පුතාට දීලා මහණ වෙන්නෙ. මහණ වෙලා අල්පේච්ඡ වෙනවා. හුදෙකලා වෙනවා. අර්හත්වයට පත්වෙනවා. ගමින් ගමට වඩිනවා. පින්වත්නි ඒ මිලිඳු මහරජ්ජුරුවො, මිලිඳු මහරහතන් වහන්සේ අම්බලමක තමයි පිරිනිවන් පාන්නෙ. දැන් දැක්කද මිලිඳු රජ්ජුරුවො කියන්නෙ ධර්මාශෝක රජ්ජුරුවො වාගේ අධිරාජ්‍යයෙක් කියනවා. එච්චර බලයක් පැවැත්වූවා කියනවා. ධර්මාශෝක රජ්ජුරුවන්ට තරම් මහා පුණ්‍ය ඍද්ධි පුණ්‍ය තේජසක් නෑ, නමුත් අධිරාජ්‍යයෙක්. කොහොමද බලන්න සසර. බලන්න, මේ ජම්බුද්වීපයක මහරජ්ජුරුවෝ, කොසොල් මහාරජ්ජුරුවො අවසානෙ අම්බලමක මියගියෙ. මේවා සිහි කරන්න. අපි නිකං බටර් පාන් කාලා හෝස් ගාලා හුස්ම යනකල් අපි බලාගෙන ඉන්නවා. මොන මොනවා අපිට වෙයිද දන්නෑ. ඒ නිසා ශාස්තෘන් වහන්සේට පහදින්න. අග්‍ර දේට පැහැදුනොත් අග්‍ර විපාක ලැබෙනවා. අද ඒ දේශනාව කරන්නෙ. අග්ගපසාද සූත්‍රය. චත්තාරො මෙ භික්ඛවෙ අග්ගපසාදා, අග්‍ර පැහැදීම. ඒ කියන්නෙ ඒ පැහැදීම උතුම්. එතනින් එහාට දෙයක් නෑ ආයෙ ඒ විදියට පැහැදුනොත්. කාරණා හතරක් තියෙනවා. මොනවද ඒ හතර. යාවතා භික්ඛවෙ සත්තා අපදාවා දිපදාවා, පින්වත් මහණෙනි යම්තාක් සත්ත්වයෝ ඉන්නවාද, පා නැති, පා තියෙන. පා නැති දෙපා, චතුප්පදාවා බහුප්පදාවා, පා හතරක් තියෙන, ඊළඟට බොහෝ පා තියෙන. එතකොට ඕනම සක්වලක, මේ ගොඩබිම, කැලයේ වනයේ, ආකාසයේ, මුහුදේ, මේ පෘථිවියේ, මේ සක්වලේ, කෝටි ප්‍රකෝටි ගණන් සක්වලවල් වල පා නැති සත්ත්වයෝ වේද, දෙපා ඇති සත්ත්වයෝ වේද, සිව්පා ඇති සත්ත්වයෝ වේද, බහුපා ඇති සත්ත්වයෝ වේද, කෝටි ප්‍රකෝටි ගණන් සක්වලවල් වල. ඊටපස්සෙ රූපිනෝවා අරූපිනෝවා. රූපයක් පේන ප්‍රකට වෙන සත්ත්වයෝ ඉන්නවා. අරූපි සත්ත්වයෝ ඉන්නවා. අරූපි ධ්‍යාන වඩලා උපදින සත්ත්වයෝ. එතකොට රූපී අරූපී. සියලුම සත්ත්වයෝ අතර, සඤ්ඤිනොවා අසඤ්ඤිනොවා, සංඥා දැනෙන අය ඉන්නවා සංඥාව නැති අය ඉන්නවා. හැඟීම් දැනීම් තියෙන සත්තු ඉන්නවා. හැඟීම් දැනීම් නැති සත්තු ඉන්නවා. ඊටපස්සෙ නෙවසඤ්ඤා නාසඤ්ඤිනොවා, ලෝකයක් තියෙනවා නෙවසඤ්ඤා නාසඤ්ඤා කියලා. ඒ ලෝකයේ ඉන්න සත්ත්වයෝ තථාගතො තෙ සං අග්ගමක්ඛායති, ඒ සියලු දෙනා අතර තථාගත බුදුරජාණන් වහන්සේම අග්‍රයි. යෙ භික්ඛවෙ බුද්ධෙ පසන්නා. යම්කිසි කෙනෙක් පින්වත් මහණෙනි,

බුදුරජාණන් වහන්සේට පැහැදුනොත් එහෙම අග්ගෙ තෙ පසන්නා, අග්‍ර දේකට පැහැදුනා වෙනවා. අග්ගේ කො පන පසන්නානං අග්ගො කො විපාකො හොති. අග්‍ර දේකට පැහැදුනොත් අග්‍ර විපාකයි. මෙතෙක් කරපු පව්කම්, මෙතෙක් වෙච්ච වැරදි, මෙතෙක් වෙච්චි දෝෂ සුනුවිසුනු වෙලා යනවා බුදුකෙනෙකුට පැහැදුනු ගමන්. දෙවියන් වදින, බ්‍රහ්මයා දණ ගහලා වදින, කෝටි ප්‍රකෝටි ගණන් සක්වලකට එකම බුදුරජාණන් වහන්සේ. සියලු දෙනා බුදුරජාණන් වහන්සේ ළඟයි දණ ගැහුවෙ. එවැනි වූ ශාස්තෘන් වහන්සේ නමක් සරණ ගිහිල්ලා ශ්‍රාවකත්වයට ආවට පස්සෙ ආයෙ කතා කරන්න දෙයක් නෑ පින්වත්නි, බුදුසරණ කියන එක. ඇත්තටම අපි සරණ ගියෙ අපි පැහැදුනේ අප්‍රමාණ ගුණ තියෙන, අප්‍රමාණ ගුණයෙන් බබළන බුදුරජාණන් වහන්සේ නමකට. අපි මෙතෙක් කාලයක් කරපු කර්ම ප්‍රමාණිකෘතයි. ඒ කියන්නෙ පින්වතුනි, අපි අතින් වෙච්චි පව් තියෙනවානෙ. රාගය හෝ ද්වේෂය හෝ මෝහය මුල් වෙලා. එතකොට ඒ වෙච්ච කර්ම වල ප්‍රමාණකෘතයි. ඒ කියන්නෙ ඒවට විපාක දෙන කාලයක් තියෙනවා, විපාක දෙන ජීවිත ප්‍රමාණයක් තියෙනවා. මේ මේ විපාක කියලා එකක් තියෙනවා. නමුත් පින්වතුනි බුදුරජාණන් වහන්සේට පැහැදුනාට පස්සෙ මේ මේ විපාක කියලා එකක් නෑ. ඒ කියන්නෙ ඉවරයක් නෑ ඒ ආනිසංස වල. අග්‍රයි, අප්‍රමාණයි. ඒ නිසා මෙච්චර කාලයක් වෙච්චි අකුසල් ගැනවත් නොසිතිය යුතුයි. ඒවා මොනවද බුදු කෙනෙකුට පැහැදුනාට පස්සෙ. ඒකනෙ අංගුලිමාලයන් හිතුවෙවත් නැනෙ මිනී දහස් ගාණක් මරපු එක. හිතුවෙවත් නැනෙ. ඇයි භාග්‍යවතුන් වහන්සේගේ සරණට ආවනෙ. භයවෙන්න දෙයක් නැනෙ. බුදුරජාණන් වහන්සේගෙ සරණ. උන්වහන්සේ පිණ්ඩපාතෙ වඩිනකොට ගල් ඇවිල්ලා ඇඟේ වදිනවා. හැරිලාවත් බලලා නැනෙ, කොහෙන්ද ගල ආවෙ කියලාවත්. ඒවා හොයන්න දෙයක්වත් නෑ. භාග්‍යවතුන් වහන්සේගේ සරණට ඇවිල්ලා. සරණට ඇවිල්ලා. දැන් අපි අකුසලයෙන් මිදුනා කියන එකට මිනී මරණවා කියන කතාව, අංගුලිමාල චරිතෙත් එක්ක ගත්තට බනින්න ගන්නැනෙ අපි. ඇයි මේ සරණට ආපු නිසානෙ. අද කාලෙත් කීදෙනෙක් වදිනවාද. මේ පොඩි ළමයින් ඉපදුනු හැටියෙ අංගුලිමාල පිරිත කියනවානෙ අම්මා කියන්නත් කලින්. පුදුම සහගත දෙයක්නෙ මේක. අම්මා කියන්න කලින් ළමයි අංගුලිමාල පිරිත කියන්නෙ. ඇයි මේ, සරණට පැමිණිච්චි නිසා. තිසරණය. අංගුලිමාල ස්තූපය කියන්නෙ අංගුලිමාලයන් සරණට පැමිණුනා කියන්න මේ ලෝකෙ හදපු ස්මාරකයක්. තමන් බුදුසරණට පැමිණුනා කියලා. බුදු කෙනෙක් ළඟට ආවෙ නැත්නම් ස්තූප

හදයිද? අද කාලෙටත් සාප කරයි නමටත්. අදටත් අංගුලිමාල නම කියපු ගමන් අත්දෙක එකතු කරනවානෙ කට්ටිය, සාදු කියනවානෙ පුංචි ළමයිගෙ කිරි සුවඳ ගිහිල්ලා නැති දත් ඇවිල්ලා නැති කටවල් වලින් අංගුලිමාල කියන නාමය කියනවානෙ. ඇයි මේ තිසරණයට ආපු නිසානෙ. ඒ නිසා ඔයාලගෙ ජීවිතවල් වල වෙච්චි අකුසල් මොනවද. පින්වතුනි තිසරණයට එන්න. බුදුරජාණන් වහන්සේ අග්‍රයි ලෝකෙ. ඇත්තටම අග්‍රයි. මව මරලා නැත්නම්, පියා මරලා නැත්නම්, බුදුන්ගේ ලේ සොලවලා නැත්නම්, සංඝභේද කරවලා නැත්නම්, රහතන් වහන්සේලා ඝාතනය කරලා නැත්නම් භයවෙන්න එපා. සරණ තියෙනවාමයි. මුළු හදවතින්ම සරණ යන්න බුදුරජාණන් වහන්සේට, අග්‍ර විපාක ලැබෙනවා. මේ ලෝකෙ අග්‍ර විපාකය කියන්නකො. මොකක්ද මේ ලෝකෙ අග්‍ර විපාකය? අර්හත්වයනෙ. අංගුලිමාලයන් බුදුන් සරණ ගිය නිසා ලැබිච්ච අග්‍ර විපාකය මොකක්ද? අර්හත්වයනෙ. මේ ලෝකයේ රහතන් වහන්සේලා සියලු දෙනාම ඉස්සෙල්ලාම මොකක්ද වුනේ, බුදුන් සරණ ගියානෙ. මොකක්ද ලැබිච්ච අග්‍ර විපාකය, අර්හත්වයනෙ. අපි කියනවානෙ පින්වතුනි මහත්ඵලයි කියලා. මොකක්ද මහත් ඵලය? අර්හත් ඵලයනෙ. මහා ආනිසංසයි කියනවා. මොකක්ද පින්වතුනි මහාත්ම ආනිසංසය. අර්හත්වයනෙ. ඒ නිසා යමෙක් ලොවේ බුදුරජාණන් වහන්සේ සරණ ගියා නම් එයා අනිවාර්යයෙන් බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ලබනවාමයි. කවදා හරි දුක් කෙළවර කරනවාමයි. ඒකයි මෙච්චර සරණට එන්න කියලා කියන්නෙ. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියන එක ලේසි දෙයක් නෙවෙයි. බුදුරජාණන් වහන්සේ කියන නම අහනකොට ප්‍රීතිය සොම්නස ඇතිවෙනවා නම් පින්වතුනි භාවනාව තුළින් උපද්දවන ප්‍රීතිය පුංචි දෙයක් කියනවා, බුදුරජාණන් වහන්සේ ගැන සිහි කරලා ඇතිවන ප්‍රීතිය උතුම් කියනවා. එච්චර ඒ බුදුරජාණන් වහන්සේ ගැන තියෙන සරණේ වටිනාකම මේ කියන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ සරණට පැමිණිලාමයි මේ ලෝක සත්ත්වයා මේ දුක් කන්දරාව කෙළවර කරගන්නෙ. ඉතින් හිතන්න බලන්න දැන් ඔය ISIS සංවිධානයෙන් මිනිස්සු මරණ විදිය. අන්තවාදී අදහස් නිසා මිනිස්සු කෲර වෙන විදිය. මිත්‍යා දෘෂ්ටික අදහස් නිසා මිනිස්සු මුලා වුනු විදිය. මේ ඔක්කෝටම වෙච්චි නස්පැත්තිය මොකක්ද, බුදුන් සරණ නොගිය නිසා. ශ්‍රී සද්ධර්මය සරණ ගියෙ නැති නිසා. ආර්ය මහා සංඝරත්නය සරණ ගිය නැති නිසා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ගැන පැහැදීම ඇති කරගන්න. ආනන්ද ස්වාමීන් වහන්සේට අර ලෝක ධාතු ගැන අහනකොට, ආනන්ද ස්වාමීන් වහන්සේට

මොහොතකට ඇතිවෙච්චි චිත්ත ප්‍රසාදය, පින්වත් උදායී මේ ආනන්දට මේ ලෝක ධාතු ගැන අහනකොට ඇතිවෙච්චි චිත්ත ප්‍රසාදයෙන් ඒ පිනෙන් පුලුවන් කිව්වා හත්වතාවක් සක්දෙව්ඳු කරවන්න. හත්වතාවක් සක්විති රජ කරවන්න පුලුවන් කිව්වා. නමුත් මේ ආනන්ද පිරිනිවන් පානවා මේ ජීවිතේ. චිත්ත ප්‍රසාදය. ඒ නිසා පැහැදීමමයි ඕන. ඒ පැහැදීම තිබිලා එක මලක් පිදුවත් ඒකෙන් නිවන් දකිනවානෙ. නත්ථි චිත්තෙ පසන්නම්හි අප්පිකානාම දක්ඛිනා, හිතේ පැහැදීම තිබ්බට පස්සෙ එයාගේ ජීවිතේ කවදාවත් පුංචි පිනක් කෙරෙන් නෑ කියනවා. මොකක්ද ඒකෙ අර්ථය. හිතේ පැහැදීම තියෙන කෙනාට කවදාවත් පුංචි පිනක් කෙරෙන් නෑ කියනවා. ඇයි ඒ? එයා එක මලක් පූජා කලත් ගොඩාක් විපාක. ඇයි ඒ, හිත පැහැදිලා. හිත පැහැදුන් නැති මිනිහට කවදාවත් ලොකු පිනක් කරන්න බෑ. ඇයි ඒ? එයා මල් කෝටියක් පූජා කලත් හිත පටුවෙලා. පැහැදීම නෑ. පුදුම සහගතයි. පින්වතුනි අර අපුත්තක සිටාණන් අකමැත්තෙන් මෙන්න මේ උන්නාන්සෙට දානෙ ටිකක් දෙනවා කියලා අකමැත්තෙන් කියපු වචනෙට හත් වතාවක් සිටුවරයෙක් වෙලා ඉපදුනා. අකමැත්තෙන් කියපු වචනෙට. ඉතින් කැමැත්තෙන් ශාස්තෘන් වහන්සේ සරණ ගිහිල්ලා තමන්ගේ අතින් කිරි ආහාර ටිකක් හදලා පුදනකොට, මල් ටික ගිහිල්ලා පූජා කරනකොට බුදුගුණ කියනකොට, සෑය වෙහෙර විහාර වඳිනකොට කොච්චර පින් ද, කුසල් ද. අපේ මනුස්සයාට වැදිච්ච සාපෙ මොකක්ද දන්නවාද, සරණේ වටිනාකම දන්නැති වුනා. අඩුපාඩු ඉස්සරහට ආවා. පසුතැවිල්ල. මට මෙහෙම වුනා, මෙහෙම වුනා, අපි අතින් මෙහෙම වුනා, කියලා මොනවහරි මනස්ගාතයක් හිත හිතා ඉඳලා අච්චර මහා පින් කෙරෙනවා, හිතන් නෑ. ඒ නිසයි මේ තේරුම් කරලා දෙන්නෙ. මේ බුද්ධ වචනය පින්වත්නි. අග්ගෙ තෙ පසන්නානං අග්ගො විපාකො හොති, අග්‍ර දේකට පැහැදුනු කෙනාට අග්‍ර විපාක හම්බවෙනවා. මේ පිදුවා කියලත් නෑ මෙතන. අග්‍ර දේකට පැහැදිලා පුදන කෙනාට විපාක හම්බෙනවා කියලද කියන්නෙ. අග්‍ර දේකට පැහැදුන කෙනාට, පිදුවොත් කවර කතා ද. බුදුරජාණන් වහන්සේ ගැන ඇතිවන පැහැදීම. ඒ නිසා අවංකවම ඉන්නවා අහිංසක පින්වත්න පිරිසක් ඉන්නවා, බුදුගුණ අහද්දි මුළු ශරීරයම ශ්‍රද්ධාවෙන් සිසිල් කරගෙන බුදුගුණ අහන පිරිසක් ඉන්නවා. නොකඩවාම බුදුගුණ අහන අය ඉන්නවා. ඔවුන් බොහෝ පින් රැස් කරගත්තා. එතකොට සෑම වැඩසටහනකදීම බුදුගුණ අහලා අහලා අහලා බුදුරජාණන් වහන්සේ ගැන පැහැදීම ඇතිවෙනවා කියන්නෙ අවස්ථා කීයක් ද. ඒ නිසා අග්‍ර දේකට පැහැදුනොත් අග්‍ර විපාක.

ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා දෙවෙනි කාරණාව. යාව තා භික්ඛවෙ ධම්මා සංකතා, මේ ධර්මයන් අතර, හේතුඵල දහමෙන් හටගන්න ධර්මයන් අතර තියෙනවා අරියො අට්ඨංගිකො මග්ගො, හැමදෙයක්ම හේතුඵල දහමින්නෙ හටගන්නෙ, සංකතයිනෙ. ඒ අතරින් ආර්ය අෂ්ටාංගික මාර්ගය තමයි අග්‍ර. හේතුව ඒ කියන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයත් හේතුඵල දහමින් හටගන්නෙ. එහෙනම් ආර්ය අෂ්ටාංගික මාර්ගයත් ප්‍රාර්ථනා කරලා ලබන්න බෑ. ආර්ය අෂ්ටාංගික මාර්ගයත් ඉබේ පහළ වෙන් නෑ. හේතු ඵල දහමක්. හේතු සකස් කරනකොට ඵලය හැදෙනවා. යෙ භික්ඛවෙ අරිය අට්ඨංගිකෙ මග්ගෙ පසන්නා. මේ නිවන් මාර්ගයට පැහැදිලා තියනෙවා. යෙ අග්ගෙ තෙ පසන්නා, අග්‍ර දේකට පැහැදුනෙ. අග්‍ර විපාක ලැබෙනවා ආර්ය අෂ්ටාංගික මාර්ගයට පැහැදුනොත්. චතුරාර්ය සත්‍යයට, ආර්ය අෂ්ටාංගික මාර්ගය කියන්නෙ සම්මා දිට්ඨියනෙ. සතර සතිපට්ඨානයට පැහැදෙන එක සම්මා සතියනෙ. එතකොට මේ විදියට සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම. පින්වතුනි ලෝකාවලෝකන සූත්‍රයේ තියෙනවා බුදුරජාණන් වහන්සේ බුදු ඇසින් ලෝකය දිහා බලනකොට මේ ලෝකයා භවයට ඇලිලා භවය නිසා විඳින, සසරට අයිති දේවල් නිසා විඳින දුක් කන්දරාව පෙනුනා. සන්තාප පරිදාහ. ඊටපස්සෙ මෙයාලා සසරටම ආස කර කර අවිද්‍යාවෙන් බැඳිලා අවිද්‍යාවෙන් තැලී පොඩිවී සිටින හැටි දුටුවා. ලෝකයේ මිනිස්සු එක්කො භවයෙන් නිවනක් හොයනවා. එක්කො විභවයෙන් නිවනක් හොයනවා. ඒ වුනාට මේ සියල්ලම යම්කිසි කෙනෙකුට පුළුවන් වුනොත් ඔය කාටවත් නිවනක් හම්බවෙන්නෙ නෑ. හැබැයි යම්කිසි කෙනෙකුට මේ භවයට අයිති සියල්ලම අනිත්‍ය වශයෙන්, දුක් වශයෙන්, අනාත්ම වශයෙන් බලන්න පුලුවන් වුනොත් එයා මේකෙන් නිදහස් වෙනවා. ඉතින් මේක අහනකොට සන්තෝෂයක් ඇතිවෙනවා. මෙන්න නිවන් මාර්ගය, එතකොට පැහැදුනේ මොකකටද? ආර්ය අෂ්ටාංගික මාර්ගයට. අග්‍ර දේකට පැහැදුනේ. අග්‍ර විපාක. ඒ නිසා යම්කිසි කෙනෙක් ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගයට පැහැදුනොත් අග්‍ර දේකට පැහැදුනා වෙනවා. අග්‍ර දේකට පැහැදුනාට පස්සෙ විපාක අග්‍රයි. එතකොට ඒ නිසා හොඳට ආර්ය අෂ්ටාංගික මාර්ගය ගැන ඉගෙන ගන්න. සත්තිස් බෝධි පාක්ෂික ධර්මයෝ ගැන ඉගෙන ගන්න. අහන්න, පහදින්න. එතකොට මේ තියෙන්නෙ, දැන් බලන්න පුරුදු කලොත් කවර කතාද, පහදින එකෙන්, අනේ මේක කරගන්න ඇත්නම් කොච්චර එකක්ද. මෙන්න නිවන් මාර්ගය, මෙන්න බුදුරජාණන් වහන්සේ වදාළා කියලා

හිත හිතා පහදිනවා. අග්‍ර විපාක ලැබෙනවා. යාව තා භික්ඛවෙ ධම්මා සංකතා වා අසංකතා වා විරාගො තෙ සං ධම්මානං අග්ග මග්ගායති, මේ සංකත අසංකත ධර්මයන් අතර විරාගී වූ ධර්මයෝමයි අග්‍ර. ඒ තමයි මේ මදය නැති කරන, කෙලෙස් පිපාසය සන්සිඳවන ආලය නැති කරන ඒ වගේම සසරට නැවත නැවත කරකැවී එන තෘෂ්ණාව ක්ෂය කරන, නොඇල්මෙන් යුතු නිරෝධයෙන් යුතු නිවනයි. යෙ භික්ඛවෙ ධම්මෙ පසන්නා අග්ගෙ තෙ පසන්නා අග්ගෙ කො පන පසන්නා නං අග්ගො විපාකො හොති, නිවනට පැහැදුනොත් අග්‍ර විපාක ලැබෙනවා. නිවන කියලා කියන්නෙ මේ දුක් කෙළවර කරගන්න එක. කවදාද මේ දුක් කෙළවර කරගන්නෙ. අනේ ඒ නිවන ශාන්ත දෙයක්, ප්‍රණීත දෙයක්. අමා මහා නිවන ගැන අහනකොට හරී සතුටක් ප්‍රීතියක් උපදිනවා. අග්‍ර දේකට පැහැදිලා තියෙන්නෙ, අග්‍ර විපාක හම්බෙනවා. අග්‍ර විපාකය මොකක්ද, ඒ තමයි අමා මහ නිවන. එහෙනම් අපි යමක් කැමැති නම්, නිවනට කැමැති නම් නිවනට පහදින්න ඕන. ආර්ය අෂ්ටාංගික මාර්ගයට කැමැති නම් ආර්ය අෂ්ටාංගික මාර්ගයට පහදින්න ඕන. යාව තා භික්ඛවෙ සංඝා වා ඝනා වා තථාගත සාවක සංඝො තෙ සං අග්ග මග්ගායති, මේ සියලු දෙනා අතර මේ ලෝකයේ සියලු පිරිස් අතර ශ්‍රාවක සංඝ රත්නයමයි අග්‍ර. යදිදං චත්තාරි පුරිසයුගානි අට්ඨ පුරිස පුග්ගලා එස භගවතො සාවක සංඝො, සෝවාන් සකදාගාමී අනාගාමී අර්හත් කියන මාර්ග ඵල යුගල වශයෙන්. ඊළඟට සෝවාන් මාර්ග ඵල, සකදාගාමී මාර්ග ඵල, අනාගාමී මාර්ග ඵල, අර්හත් මාර්ග ඵල මේ විදියට මාර්ග ඵල වශයෙන් පුද්ගලයෝ අට දෙනෙක් වෙන මේ සඟරුවන ආහුණෙය්‍යයි, පාහුණෙය්‍යයි, දක්ඛිණෙය්‍යයි, අංජලිකරණීයයි. දුර සිට නමුත් ගෙනෙන දානය පුදන්න සුදුසුයි. ආගන්තුකව ගේන දානය සපයන්න සුදුසුයි. පින් සලකා යමක් පුදන්න සුදුසුයි. ඇඟිලි එකතු කොට වන්දනා කරන්න සුදුසුයි. ලෝකෙට උතුම් පින් කෙතක්. ඉතින් කවුරුහරි මේ සංඝරත්නයට පැහැදුනොත් එහෙම අග්‍ර දේකට පැහැදුනා වෙනවා. අග්‍ර දේකට පැහැදුනොත් අග්‍ර විපාක හම්බෙනවා. එහෙනම් රහතන් වහන්සේලාට පහදින එක, රහතන් වහන්සේලා ගැන අහන එක, අග්‍ර විපාක හම්බෙන එකක්. දැන් අපි ගමු අංගුලිමාල මහරහතන් වහන්සේ. අංගුලිමාල මහරහතන් වහන්සේ කියන්නෙ මහාසංඝයානෙ. අසූ මහා ශ්‍රාවකයන්ට අයිතියිනෙ. ඒ උත්තමයන් වහන්සේට පැහැදුනොත් කොච්චර විපාකද. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මේ විදියට තමයි අග්‍ර ප්‍රසාදය කියනවා. ලෝකයේ අග්‍රම ප්‍රසාද, පැහැදීම් හතර, බුදුරජාණන් වහන්සේට පහදින එක,

ආර්ය අෂ්ටාංගික මාර්ගයට පහදින එක, නිවනට පහදින එක, සංඝයාට පහදින එක. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මේ විදියට. අග්ග තො වෙ පසන්නා නං අග්ගං ධම්මං විජානතං අග්ගෙ බුද්ධෙ පසන්නානං දක්ඛිණෙය්‍ය අනුත්තරෙ, ඒකාන්තයෙන් අග්‍ර වූ පැහැදීමට අයත් වූ, අග්‍ර වූ ධර්මය අවබෝධ කොට වදාළ, අනුත්තර වූ දන් පිළිගැනීමේ සුදුසු වූ අග්‍ර වූ බුදුරදුන් කෙරෙහි පැහැදුනු සිත් ඇති තැනැත්තාට, අග්ගෙ ධම්මෙ පසන්නානං විරාගොපසමෙසුඛෙ අග්ගෙ සංඝෙ පසන්නානං පුඤ්ඤකෙත්තෙ අනුත්තරෙ, විරාගී වූ කෙලෙස් සංසිඳවාලන, සැපය ඇත්තා වූ අග්‍ර ධර්මයෙහි සිත පහදවා ගත් තැනැත්තාට අනුත්තර පින් කෙත වූ ආර්ය සංඝයා කෙරෙහි සිත පහදවා ගත් තැනැත්තාට, අග්ගස්මිං දානං දදතං අග්ගං පුඤ්ඤං පවඩ්ඪති අග්ගං ආයුං ච වණ්ණො ච යසො කිත්ති සුඛං බලං, ඒ අග්‍ර වූ උතුමන් කෙරෙහි දෙන දානය අග්‍ර පින් ලබා දෙන්නේ වේ. අග්‍ර වශයෙන් ආයු වර්ණ සැප යස කීර්ති බල ලබා දේ. අග්ගස්ස දාථා මෙධාවි අග්ග ධම්ම සමාහිතො දෙව භූතො මනුස්සො වා අග්ගපත්තො පමොධතී ති, අග්‍ර වූ ධර්මයන්ගෙන් යුක්ත වූ අග්‍ර වූ ශ්‍රාවක සංඝයා විෂයෙහි යම් නුවණැත්තෙක් දානාදිය පූජා කරයි ද, හේ දෙව් බවට හෝ මිනිස් බවට පැමිණි විට අග්‍ර බවින්ම සතුටු වෙනවා. මේ බුදුරජාණන් වහන්සේට නිවනට ආර්ය අෂ්ටාංගික මාර්ගයට, සංඝයාට පැහැදුනු අයට අග්‍රම විපාක ලැබෙන්නෙ. අග්‍ර විපාක ලැබුනට පස්සෙ දෙවියන් අතර හිටියත්, මිනිස්සු අතර හිටියත් අග්‍රම දේ ලැබෙනවා. දැන් පොඩ්ඩක් කල්පනා කරලා බලන්න, ඔබ මනුස්ස ලෝකෙ ඉපදුනා. මනුස්ස ලෝකෙ ඉපදුනාට පස්සෙ ඔබේ ජීවිතේ දැනට ලැබුනු අග්‍රම දේ මොකක්ද කියලා හිතන්න. තෙරුවන් කෙරෙහි පැහැදීම නේද, මේ ධර්මය නේද අග්‍ර දේ ලැබුනෙ ඔබට. එහෙනම් අපිට මේ ජීවිතේ අග්‍ර දේ අපිට හම්බුනේ අපි කලින් කවදාහරි මොහොතක් හරි තුණුරුවන්ට පැහැදිලා. සංසාරෙ තුණුරුවන්ට පැහැදිලා තිබ්බෙ නැත්නම් තුණුරුවන් හම්බවෙන්නෙ නෑ. ඒ නිසා කාටහරි මොකක්හරි වෙලා මොන කරුමෙකින් හරි මේ ශාසනයෙන් අයින් වුනා කියන්නකො. මෛත්‍රී බුදුරජාණන් වහන්සේ හරි මුණගැහෙන්නෙ දැන් තිසරණයට තියෙන පැහැදීමත් එක්ක. මොකද අග්‍ර දේ. මෛත්‍රී බුදුරජාණන් වහන්සේ පහළ වුනා කියන්නෙ, ඒ කාලෙ අග්‍රම උත්තමයා. උන්වහන්සේගේ ධර්මය අග්‍රම ධර්මය. උන්වහන්සේගේ සංඝයා අග්‍රම සංඝයා. උන්වහන්සේට දෙන දානය අග්‍රම දානය. එහෙනම් ඒ අග්‍ර විපාක ටික ලැබෙන්නෙ කොහොමද, දැන් අග්‍ර දේ කලොත්. දැන් කුමක්ද අග්‍ර දේ? තුණුරුවන්ට පහදින එකනෙ. හරි දිව්‍ය ලෝකෙ අපි කියලා තියෙනවා මාර්ග

ඵල ලාභී දෙවිවරු ඉන්නවා. ඒකාන්ත සත්‍යයක්. එතකොට ඒ දෙවිවරු අතර එයාලා අග්‍ර නැද්ද. එතකොට ඒ දෙවිවරු ධර්මය කියනවා. ඒ දිව්‍යලෝකෙ ඒ දහම් කතාව අග්‍ර නැද්ද. එතකොට ඒ මාර්ග ඵල ලාභී දෙවිවරු ටික අග්‍ර පිරිසක් නෙවෙයිද ඒ දිව්‍ය ලොකෙ. එහෙනම් ඔබ දිව්‍යලෝකෙට ගිහිල්ලා ඒ අග්‍ර පිරිස ඇසුරු කරන්න, අග්‍ර ධර්මය අහන්න, අග්‍ර සැපය ගන්න, දැන් අග්‍ර දේට පැහැදිලා තියෙන්න ඕන. එතකොටයි දිව්‍ය ලෝකෙ අග්‍ර දේ හම්බවෙන්නෙ. මේක තේරුම් ගන්න. ඒ නිසා පින්වතුනි මනුස්ස ජීවිතේ වුනත්, නැත්නම් හීන දේවල්ම හම්බවෙයි. ලාමක දේවල්ම හම්බවෙයි. පහත් දේවල්ම හම්බවෙයි. ලොකු දෙයක් කරගන්න බැරිවුනත් තුණුරුවන්ට පහදින්න. මේ ශාසනයට පහදින්න. ජීවිතේ පුදන්න තුණුරුවන් වෙනුවෙන්. බුදුරජාණන් වහන්සේ නමකට පහදිනවා කියන එක සුලු දෙයක් නෙවෙයි. ඒ කාලෙ එක්තරා බ්‍රාහ්මණයෙකුට හිතුනා, ඒ බ්‍රාහ්මණයා හරියට දන්දෙනවා සංඝයාට. පැහැදිලා ඉන්නෙ තුණුරුවන්ට. බුදුරජාණන් වහන්සේටත් දානෙ පූජා කරලා තියෙනවා. සංඝයාටත් දානෙ පූජා කරලා තියෙනවා. මෙයා දවසක් ඇවිල්ලා බුදුරජාණන් වහන්සේට කියා හිටිනවා, ස්වාමීනී මං බුද්ධ රත්නයට දන් දුන්නා. සංඝ රත්නයට දන් දුන්නා. මං හරී ආසයි ධර්ම රත්නයට දානයක් පූජා කරන්න. හැබැයි ස්වාමීනී මම දන්නෑ ඕක කොහොමද කරන්නෙ කියලා. භාග්‍යවතුන් වහන්සේ දේශනා කලා, මේ බුද්ධ ශාසනයේ ධර්මය මතකයේ තියාගෙන ඉන්නෙ අපේ ආනන්ද. ඒ නිසා යම්කිසි කෙනෙක් ආනන්දට දානෙ පූජා කලොත් ඒක ධර්මයට පූජා කරපු දානයක් වෙනවා කියලා. ඉතින් පහුවදා උදේ හොඳට පිණ්ඩපාතෙ වඩින්න කලින් දානෙ හොඳට හදාගෙන ඇවිල්ලා ඔක්කොම සංඝයා යනකල් ඉඳලා ආනන්ද ස්වාමීන් වහන්සේට කතා කරලා අනේ ඔබ වහන්සේට මේ දානෙ පූජා කරනවා. ඊටපස්සෙ කිව්වා, ඇයි පින්වත මේ අද කවදාවත් නැතිව? නෑ මට ධර්මයට දානෙ පූජා කරන්න ආසයි. ඔබවහන්සේ තමයි ධර්ම භාණ්ඩාගාරික. ඒ නිසා මං මේ ඔබවහන්සේට පූජා කරන්නෙ ධර්ම රත්නයට කරන දානයක් කිව්වා මේක. අනේ පින්වත මම ධර්ම භාණ්ඩාගාරික කියලා භාග්‍යවතුන් වහන්සේ මට ප්‍රශංසා කරලා තියෙනවා. ඒ වුනාට ධර්ම සේනාධිපතියි කියලා කෙනෙක් ඉන්නවා කියලා කිව්වා. ඒ තමයි සාරිපුත්තයන් වහන්සේ. උන්වහන්සේ තමයි සෙන්පති. මේ දානෙ හරියන්නෙ උන්වහන්සේට තමයි කිව්වා. එතකොට ඔබ හරියටම ධර්මය වෙනුවෙන් දන් දීලා තියෙනවා කිව්වා. ඊටපස්සෙ එයා ඒ දානෙ ටික ඔක්කොම උස්සගෙන ආනන්ද ස්වාමීන් වහන්සේ සාරිපුත්ත මහරහතන් වහන්සේ ළඟට ගියා. සාරිපුත්ත මහරහතන්

වහන්සේ බලනවා මොකද ආනන්ද මේ? නෑ ස්වාමීනී මේ බ්‍රාහ්මණයා දානයක් දෙන්න හදනවා. මොකද බ්‍රාහ්මණය? ස්වාමීනී මං හරී ආසයි ධර්මයට දන් දෙන්න, ඔබ වහන්සේ ධර්ම සේනාධිපති, දම්සෙනෙවි, ඒ නිසා ඔබවහන්සේට මේ දානෙ දෙන්නෙ. අනේ ඔය දෙන්නටම වැරදිලානෙ. මම ධර්ම සේනාධිපති කියලා භාග්‍යවතුන් වහන්සේ ප්‍රශංසා කරලා තියෙනවා තමයි, නමුත් ඔයාලා කියන්න කිව්වා ධර්ම ස්වාමී කවුද කියලා. ධර්ම ස්වාමී කවුද? තථාගත බුදුරජාණන් වහන්සේනෙ. ඒ දානෙ ටික ආයෙත් බුදුරජාණන් වහන්සේටමයි. ඉතින් ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ, දැන් අර බමුණට දැන් වෙන ප්‍රශ්නයක්. දැන් බුදුරජාණන් වහන්සේට දැන් දානෙ අවසානෙ හම්බුනේ බුදුරජාණන් වහන්සේට. රවුමක් ගිහිල්ලා ආවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කලා, පින්වත් බ්‍රාහ්මණය මේ සිද්ධිය මේ විදියටම කලිනුත් වෙලා තියෙනවා, ස්වාමීනී ඒ මොකක්ද? එක්තරා අම්බලක වැස්සකට පසේ බුදුකෙනෙක් ගොඩවෙලා හිටියා. රජතුමාත් ගොඩවුනා. පුරෝහිතයත් ගොඩවුනා. ඊටපස්සෙ තවත් ගමේ මනුස්සයෙක්, ඒ මනුස්සයත් ඇවිල්ලා හිටියා. ඊටපස්සෙ මොකද වුනේ, නෑ, තව තාපසයෙකුත් හිටියා. ඊටපස්සෙ එතනින් යන එක්තරා මනුස්සයෙක් බත් මුලක් අරන් ගිහිල්ලා යන ගමන් රජ්ජුරුවො ඉන්නවා දැකලා රජ්ජුරුවන්ට මොනවහරි දුන්නොත් එහෙම තමන්ටත් හොඳයිනෙ කියලා අර ඔක්කොම ඉදිද්දින් ගිහිල්ලා මේ රජ්ජුරුවන්ට දුන්නා කෑම එක. රජ්ජුරුවො කල්පනා කලා මට අවවාද අනුශාසනා කරන්නෙ මගේ පුරෝහිත. පුරෝහිතගෙ මොලෙන් තමයි මං මේ රටම පාලනය කරන්නෙ. මේ කෑම එක සුදුසු පුරෝහිතට කියලා පුරෝහිතට දුන්නා. පුරෝහිත කල්පනා කලා මම මේ කෑම එක කෑවට මට වැඩිය මේ තාපසයින් වහන්සේ හිමාලයේ ඉන්නෙ, ඒ නිසා මේ තාපසයින් වහන්සේ, මම රජවරුත් එක්ක ඉන්න කෙනෙක්. මේ කෑම එක හොඳ තාපසයින් වහන්සේට. දුන්නා. තාපසයින් වහන්සේ කල්පනා කලා මම තපස් රැක්කට තවම කෙලෙස් තියෙනවා. මේ උත්තමයා නිකෙලෙස් කෙනෙක්. පසේ බුදුරජාණන් වහන්සේ නමක්නෙ. පසේ බුදුරජාණන් වහන්සේට දුන්නා. බුදුරජාණන් වහන්සේ වදාළා ඒ කාලෙ පාරෙ ගිය මනුස්සයා තමයි මේ බ්‍රාහ්මණයා. ඒ කාලෙ රජ්ජුරුවො තමයි ආනන්ද. ඒ කාලෙ පුරෝහිතයා තමයි සාරිපුත්ත. ඒ කාලෙ හිටපු තාපසයින් වහන්සේ තමයි කිව්වා මම. පසේ බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවා කිව්වා. දැක්කද ඒ පරම්පරා භික්ෂාව, ඒ එදා වෙච්චි දේ අදත් වුනා. පුදුම සහගත දේවල්. ඒ නිසා ඇත්තටම යම්කිසි කෙනෙක් බුදුරජාණන් වහන්සේට වැන්දොත් බුද්ධ රත්නයටත් වැන්දා වෙනවා,

ධර්ම රත්නයටත් වැන්දා වෙනවා, සංඝරත්නයටත් වැන්දා වෙනවා. සඟ රජ කවුද? සංඝ රාජයින් වහන්සේ කවුද? සංඝ ඍෂීන් වහන්සේ කවුද? බුදුරජාණන් වහන්සේනෙ. සංඝයා අතර ඍෂීන් වහන්සේ කවුද? බුදුරජාණන් වහන්සේනෙ. ධර්ම ස්වාමී කවුද? බුදුරජාණන් වහන්සේනෙ. බලන්න එක පැහැදීමකින් තුණුරුවන්ටම පැහැදීම වෙනහැටි. ඒ නිසා අසිරිමත් සම්බුදු සරණ කියලා තිබ්බට මේ තමයි තුණුරුවන් සරණ ගැන කියන්නෙ. ඒ නිසානෙ එදා කප්පින රජ්ජුරුවො බුදුගුණ අහලා, බුදුකෙනෙක් පහළ වෙලා කියලා අහලා ඒ රජ්ජුරුවො උයනට යද්දින් තමන්ගේ ඇමතිවරු දාහත් එක්ක අශ්වයා පිටින්ම එහෙම්මම එනවානෙ බුදුරජාණන් වහන්සේ හොයාගෙන. එනකොට විශාල ගංඟාවක් තියෙනවා. එතකොට ඒ ගංඟාව දැක්ක අශ්වයො පිට එන්නෙ, විශාල ගංඟාවක්. දැන් නැව් හොයන්න වෙලාවක් නෑ, බුදුරජාණන් වහන්සේ හොයාගෙන යන්නෙ. ඒ වෙලාවෙ කප්පින රජතුමා කියනවා මං අවංකවම නම් බුදුරජාණන් වහන්සේ හොයාගෙන යන්නෙ ඒක සත්‍යයක්. ඊටපස්සෙ කියනවා භවසෝතං සවෙ බුද්ධො තින්නො ලෝකංතගූ විදෝ, කියනවා බුදුරජාණන් වහන්සේ කියන්නෙ භව සැඩ පහර සින්ද ලෝකයෙන් එතෙර වුනා සියල්ල අවබෝධ කරපු උත්තමයෙක්. එතෙන සච්ච වජ්ජෙන ගමනං මෙ සමිජ්ජතු, ඒක සත්‍යයක් මගේ ගමනට බාධා වෙන්න එපා කියලා අශ්වයො ටික දැම්මා ගඟට. අශ්වයො පොළොවෙ යනවා වගේ ගඟ උඩින් යනවානෙ වතුරවත් ගෑවෙන් නැතිවා. බුදුගුණ බලයෙන්. තුන් ලෝකයට අග්‍රයිනෙ. එහෙම යනකොට ඊළඟට තව ගඟක් හම්බුනා, කප්පින රජ්ජුරුවන්ට. ඊටපස්සෙ ඒ වෙලාවෙ සිහි කලා යදි සක්ති ගමො මගො මොක්කො වච්ඡං තිඛං සුඛං එතෙන සච්චෙන වජ්ජෙන ගමනං මෙ සමිජ්ජතු, කියනවා යම්කිසි ශක්තියක් තියෙනවා නම් ආර්ය අෂ්ටාංගික මාර්ගය නම් වූ ඒ සත්‍යය බුදුරජාණන් වහන්සේ දේශනා කලා. ඒකෙන් තමයි අමා මහා නිවන ලබන්නෙ. අත්‍යන්ත සැපය ලබන්නෙ. ඒක සත්‍යයක්. මගේ ගමන සාර්ථක වේවා. ඒ ගඟ උඩිනුත් යනවා. අශ්වයන්ගේ කුරවත් වතුරෙන් තෙමෙන් නෑ. පොළොව උඩ යනවා වගේ. ආයෙත් ගඟක් හම්බුනා. ඊටපස්සෙ ඒ වෙලාවෙ සිහි කලා සංඝො වෙ තින්න කංතාරො පුඤ්ඤක්කෙත්තො අනුත්තරො එතෙන සච්ච වජ්ජෙන ගමනං මෙ සමිජ්ජතු, සංඝයා සසර සැඩපහරින් එතෙර වුනා. උන්වහන්සේලා අනුත්තර පින් කෙත. ඒක සත්‍යයක් නම් මගේ ගමනට බාධා වෙන්න එපා කියලා අශ්වයො ටික ගඟට දැම්මා. කුරයක්වත් අශ්වයෙක්ගේ ලොම් ගහකටවත් වතුර විසිවෙලා නෑ. උඩින්, පාරක යනවා වගේ ගඟ උඩින් යන්නෙ.

ඕන්න ගමන් යනකොට සිද්ධ කරන්න ඕන දේවල්. නැත්නම් දෙහි ගෙඩිය අරන් මිරිස් කරල් කරකවන් නැතිව මේ තුණුරුවන් සිහි කලා නම්, තමන්ගේ සරණත් තියෙනවා. වාහනයට ආරක්ෂාවත් තියෙනවා, තමන්ගේ ගමනත් සම්පූර්ණ වෙනවා. ඒ තුන්වෙනි ගඟ තරණය කරපු ගමන්ම බුදුරජාණන් වහන්සේ ඉස්සරහා වැඩ හිටියා. පුදුම සහගතයි. කප්පින මහරහතන් වහන්සේගේ ජීවිතය හරි පුදුමයි. ඉතින් මේ විදියට තමන්ගේ හිතට සරණ ආවට පස්සෙ කිසි භයක් එන් නෑ. ඕන තැනක, මේ මොන භයක් ද, ගඟක් හරහාත් ගියානෙ. සසර කොහොමටත් බය හිතෙන් නෑ. සසරෙන් එතෙර වෙනවානෙ, සරණට ආපු කෙනා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ වදාළානෙ තිසරණය තියෙන කෙනා මරණය ඉදිරියේ බය වෙන්නෑ කියලා. ඒ නිසා පින්වතුනි ඕන ලෙඩක් දුකක් ආවත් අපේ හිතේ සරණ තියෙනවා නම් මේ ඕලාරික කයෙන් විඳින දුක් ටික ඔක්කොම මෙහෙ දාලා සුගතියෙ උපදිනවානෙ. සත්පුරුෂයන්ගේ ඇසුරට යනවානෙ සරණ තියෙන කෙනා. මොකටද බය වෙන්නෙ. ඒ නිසා උතුම් තිසරණයම පිළිසරණ කරගන්න. පින්වතුනි, බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ බුදුගුණ තියෙන ඒවා කියලා ඉවර කරන්න නම් බෑ, එච්චර බුදුගුණ. දැන් අපි යම්තාක් බුදුගුණ කිව්වා නම් ඒ බුදුගුණ අල්පමාත්‍රයි. දැන් වැඩසටහන් හැටකින් කියපු බුදුගුණ ඒවා කවර කතා ද, සාරිපුත්ත මහරහතන් වහන්සේ කියපු බුදුගුණ ගඟකට ඉදිකට්ටක් ඇල්ලුවොත් ඒ ඉදිකට්ටෙ සිදුර අස්සෙන් ගිය වතුර ටිකක් වගේ කියනවා, එහෙනම් අපි මෙච්චර කාලයක් කියපු බුදුගුණ වලට මං කොහොම උපමා කියන්නද. සාරිපුත්ත මහරහතන් වහන්සේ ජීවිත කාලෙම කියපු බුදුගුණ, ආකාසෙට ඇඟිල්ල එසවුවොත් මේ ඇඟිල්ලෙන් වැහෙන ප්‍රමාණය අවාකාසය වගේ කියනවා. නොකියවුනු බුදුගුණ අවකාශය වගේ කියනවා. එහෙමනම් අපි කියපු බුදුගුණ වලට කොහොම උපමා කියන්නද. ඊළඟට පක්ෂියෙක් ආකාසෙ පියාසර කරනකොට ඒ පියාපතට වැහිච්ච ප්‍රමාණය වගේ කියනවා සාරිපුත්ත මහරහතන් වහන්සේ කියපු බුදුගුණ. එහෙනම් අපි කියපු බුදුගුණ වලට කොහොම නම් උපමා කියන්න ද. උපමා නැත. බුදුගුණ නොකිව්වා කිව්වත් කමක් නැත. නමුත් අපිට ශක්ති පමණින් මේ බුදුගුණ ටික කිව්වෙ. ඔබත් ශක්ති පමණින් ඇහුවෙ. හිත හිතා සන්තෝෂයට පත්වෙන්න. මට ගොඩක් සතුටු හිතෙන එකක් තමයි අපි මහමෙව්නාවට එනකොට ඉතිපිසො ගාථාවෙ අර්ථයවත් දන්නෙ නෑ. ලොකු ස්වාමීන් වහන්සේ මුණගැහෙනකොට අරහං කියන වචනෙ දන්නෑ තේරුම. ලොක් ස්වාමීන් වහන්සේ මුණගැහුනට පස්සෙ ඒක දන්නෙ. සම්මා සම්බුද්ධයි

කියන්නෙ මොකක්ද දන්නෙ නෑ. තිසරණ සරණ යනවා කියන එක දන්නෑ, බුද්ධං සරණං ගච්ඡාමි කියන එක දන්නෙ නෑ. එහෙම ඉදලා තමයි අපිට ලොකු ස්වාමීන් වහන්සේ මුණගැහුනෙ. දැන් අපි වැඩසටහන හැටකින් බුදුගුණ කිව්වා, තවත් ඉවර නෑ. අරහං කියන වචනයේ අර්ථය දන්නැතිව මහමෙව්නාවෙන් ලොකු ස්වාමීන් වහන්සේ ළඟට ආපු කෙනෙක්. ලොකු ස්වාමීන් වහන්සේට පුළුවන් වුනානෙ ඒ ශිෂ්‍යයන් මේ විදියට දමනය කරන්න, දහම් කියලා දෙන්න. එතකොට ලොකු ස්වාමීන් වහන්සේගේ ගුරු ඇසුර කොහොම එකක් ද කියලා හිතන්න. උන්වහන්සේට පුළුවන් වුනා, ලංකාවේ මිනිස්සු කවුරුත් අරහං සම්මා සම්බුද්ධ බුදුගුණ මේ විදියට විස්තර කරන්න දැනගෙන හිටියෙ නෑ. දැන් කී දෙනෙකුට ඒක අහන්න සැලැස්වුවාද. පහුගිය කොරෝනා වසංගත කාලෙත් එක්ක හැමගෙදරක්ම අසපුවක් වුනානෙ ලොකු ස්වාමීන් වහන්සේ නිසා. හැම ගෙදරක්ම අසපුවක් වුනානෙ. හැම ගෙදරකම මිනිස්සු බණ ඇහැව්වානෙ. මිනිස්සුන්ගෙ හිත්වල කොච්චර ධර්මය පිරුණා ද. ඒවා විපාක දෙන්නැත්ද පින්වත්නි. අනිවාර්යයෙන් විපාක දෙනවා. ඇත්තම කිව්වොත් අද යුගයේ හැටියට බොහෝ දෙනාට හිතසුව පිණිස පහළවෙච්චි කෙනෙක් අපගේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ. ඒ නිසා අවංකවම ඒක සත්‍යයක්මයි. ඒ නිසා ඒක නිතර සිහි කරලා උන්වහන්සේ නිදුක්වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ ලබත්වා කියලා නිතර නිතර දීර්ඝායුෂ පතන්න. ඒ වාගේ සත්පුරුෂයන් වහන්සේලා අපිට දකින්න ලැබීමත් වාසනාවක්. ඇසුරු කරන්න ලැබීමත් වාසනාවක්. උන්වහන්සේලාගෙන් බණ පදයක් අහන්න ලැබීමත් වාසනාවක්. ඇඟිලි එකතු කරලා වන්දනා කරන්න ලැබීම වාසනාවක්. හිතන්න ලැබීමත් වාසනාවක්. ඒ නිසා පින්වත්නි අපගේ පරම පූජනීය ගුරු දේවොත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් බලයෙන් ඒකාන්තයෙන් නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරමු. ඉතින් පින්වත්නි අසිරිමත් සම්බුදු සරණින් ඔබට සැනසෙන්න වාසනාව ලැබේවා.

අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ කුලියාපිටියේ පදිංචි පින්වත් මිගාර දසනායක මහත්මයා, ඉහළ කොස්වත්ත කඩිගමුවේ පදිංචි පින්වත් කාන්ති, පද්මිණී, නයනා, සමන්ති, රේණුකා, නිමාලි, ගයාන්, මාලනී, තරිඳු සහ සුනිල් යන මහත්ම මහත්මීන් ඇතුලු බෝවත්ත භාවනා අසපුවට සම්බන්ධ පින්වතුන්. ඉතින් මේ අනන්ත සම්බුදු ගුණ බලයෙන් සියලු සතට සෙත්වේවා කියලා පළමුවෙන්ම සෙත් පතනවා. ඒ වාගේම මේ පින් සියලු දෙවියෝ අනුමෝදන් වෙලා සියලු දෙනා

ආරක්ෂා කරත්වා කියලා සෙත් පතනවා. ඒ වාගේම මේ සියලු පින් මියපරලොව ගිය සියලු ඥාතීන්ට අනුමෝදන් වේවා, මියපරලොව ගිය සුමුදුවතී මැණියන්, ඒ වගේම සීටින් පියාණන්, සීලවතී මැණිකේ, ඒ වගේම පුංචිබණ්ඩා පියාණන්, ඒ වගේම ඩිංගිරි බණ්ඩා පියාණන් සහ රේණුකා මහත්මියගේ මැණියන්ට, ඒ වගේම සමන්ති මහත්මියගේ පියාණන්ට, මියපරලොව ගිය මේ පින් අනුමෝදන් වේවා. පරලෝ වශයෙන් ඒ ඇත්තෝ පරලොව සැපයට පත්වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. පින් පමුණුවනවා. ඒ වගේම මේ රැස්වුනු සියලුම පින් නැවතත් සිහි කරනවා අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම, අපගේ කල්‍යාණ මිත්‍රයන් වහන්සේට මේ පින් අනුමෝදන් වෙලා දීර්ඝායුෂ සැප වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සඟරුවනට, සිල් මැණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ධර්මාවබෝධයම සැලසේවා. ඒ වාගේම රැස් කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් ඒකාන්තයෙන්ම අනුමෝදන් වෙත්වා ඉලුක්හේනේ පදිංචි දෝලී මැණිකේ මැණියන් සහ ඉහළ කඩිගමුවේ පදිංචි කුසුමා මාලනී මහත්මියගේ මැණියන්ට මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී සුව සැලසේවා. බෝවත් මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ පින්වත් මිගාර දසනායක මහත්මයා කුලියාපිටියේ, ඉහළ කොස්වත්ත කඩිගමුවේ පදිංචි පින්වත් කාන්ති, පද්මිණි, නයනා, සමන්ති, රේණුකා, නිමාලි, ගයාන්, මාලනී, තරිඳු සහ සුනිල් යන මහත්ම මහත්මීන්ට මේ පින් අනුමෝදන් වේවා. ඔබ සියලු දෙනාට ඒ අග්‍ර පැහැදීම තුළින් අග්‍ර විපාකම සැලසේවා. ඒ වගේම ඔබ සියලු දෙනාට අංගුලිමාල මහා සෑයේ ආනුභාවයෙන් ඔබ සියලු දෙනාට සියලු රැකවරණය පිහිට පිළිසරණ ඒකාන්තයෙන්ම සැලසේවා. ඉතින් ඔබ සියලු දෙනාට ගෞතම බුද්ධ ශාසනයේ අග්‍ර විපාක, අග්‍ර ඵලය වන නිකෙලෙස් බව ලබාගැනීම පිණිසම මේ පින් හේතු වාසනා වේවා. ඒ වගේම මව්දෙමව්පිය ඥාතී බන්ධුමිත්‍රාදීන්ටත්, ඒ වාගේම ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වේවා. ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනියෙන්, ලක්විරු ගුවන් විදුලියෙන් ධර්මය අහන ඔබ සියලු දෙනාට, ඒ වගේම මාධ්‍යය පවත්වාගැනීමට ආධාර උපකාර කරන සියලු දෙනාට පින් සිදු වේවා. මාව හදා වඩා බුද්ධ ශාසනයට පූජා කල මගේ දෙමව්පියන්ට, ඥාතීන්ට පින්සිදු වේවා. සියලු දෙනාට මේ ගෞතම බුද්ධ ශාසනයේ උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්න මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=nDpILEJImXE&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=60

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සමඟ ඔබ අද මේ කාලය වෙන්කරගෙන තිබෙන්නෙ. අපගේ සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අනන්ත සම්බුදු ගුණ කඳත්, ඒ බුදුරජාණන් වහන්සේ සරණ යෑම තුළින් අපගේ ජීවිතයේ මේ සසර දුකින් නිදහස් වීමට අපි අනුගමනය කරන මාර්ග ප්‍රතිපදාව දියුණු වීම පිණිස ඒ සරණ කොයිතරම් උපකාරයි ද කියලා ඔබට මේ ධර්ම දේශනා ශ්‍රවණය කිරීමෙන් තේරුම් යනවා. අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ කොට්ටාවේ පදිංචි පින්වත් ගුණසිරි රාජපක්ෂ මහත්මයා, පියවතී කත්‍රිආරච්චි මහත්මිය ඇතුළු පවුලේ සියලු දෙනා. ඒ වගේම හඟුරන්කෙත පදිංචි ඒ.බී. දිසානායක මහත්මයා, කේ.එම්. බත්තන මහත්මිය ඇතුළු පවුලේ සියලු දෙනා මේ පින්කම සමඟ සහසම්බන්ධ වෙනවා. එතකොට මේ පින්වතුන් ගොඩාක් පින් රැස් කරගන්නවා අද දවසේ මේ උතුම් ධර්මදානය සිද්ධ කිරීමෙන් අන් අයට ධර්මය අහන්න සැලැස්වීම තුළින්. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ලෝකෙට කලාතුරකින් පහළ වෙන්නෙ. ඒ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ පිහිට ගන්න, ඒ උතුම් ශාසන ප්‍රතිපදාව ලෝකයට හඳුන්වලා දුන්නු මේ උතුම් ධර්මය අවබෝධ කරපු බුදුරජාණන් වහන්සේ සරණ යන්න ඕන. බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනාට තමයි මේ බුද්ධ ශාසනයේ සියලු වරප්‍රසාද

හිමිවෙන්නෙ. සරණ නොගිය කෙනාට නෙවෙයි. ඒ නිසා බුද්ධ ශාසනයේ පිහිට ගන්න එයා සුදුස්සෙක් බවට පත්වෙන්නෙ බුදුරජාණන් වහන්සේ සරණ යෑම. එතකොට බුදුරජාණන් වහන්සේ දැන්, බුදුරජාණන් වහන්සේ සරණ යෑමක් ගැන, ධර්මය සරණ යෑමක් ගැන, ආර්ය මහා සංඝරත්නය සරණ යෑමක් ගැන විස්තර නොකර, ඒ ගැන අවධානයක් නොකොට නිවනක් පිණිස යම්කිසි කෙනෙක් අද කාලයේ මහන්සි වෙනවා නම් ඒක එයාගේ මහන්සිය නිශ්ඵල දෙයක්. පින්වතුනි, බුදුරජාණන් වහන්සේගේ කාලයේ මහා පින්වන්ත පිරිසක් තමයි වාසය කලේ. මේ ගෞතම බුද්ධ ශාසනයේ පිහිට ගත්ත අසූ මහා ශ්‍රාවකයන් වහන්සේලා සංසාරයේ කල්ප ලක්ෂයක් පෙරුම් පුරපු උත්තමයො. අග්‍ර ශ්‍රාවක මහරහතන් වහන්සේලා, සාරිපුත්ත මොග්ගල්ලාන ආදී, ඒ උත්තමයො අසංඛෙය්‍යයක්, කල්ප අසංඛෙය්‍යක් පෙරුම් පුරපු අය. එතකොට ඒ වාගේ ගුණධර්ම වලින් පෝෂිත වෙලා, පිනෙන් පූරිත වෙලා ඉපදෙද්දි බුදුරජාණන් වහන්සේ එක දහම් පදයක් දේශනා කරද්දි ඒ උත්තමයො ධර්මය අවබෝධ කරනවා. එතකොට එහෙම අවබෝධ, දැන් වැඩිය ඕන නෑ, එච්චර පූරිත පින් තිබෙන ආනන්ද ස්වාමීන් වහන්සේ සෝවාන් වුනා. අර්හත්වයට පත්වෙන්න උන්වහන්සේගේ අර්හත්වය සිදුවුනේ බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවටත් පස්සෙ. එතකොට ආනන්ද ස්වාමීන් වහන්සේට වයස අවුරුදු අසූවයි. එතකොට එච්චර කාලයක් ගියා නිකෙලෙස් වෙන්න. එතකොට අපිට ඒ අතීතයෙ හොඳට දිහා බලනකොට සමහර අයට තියෙනවා රහත් වෙන්න මගඵල ලබන්න කලබලයක්. එතකොට මේ ශාසන ප්‍රතිපදාව හොඳට තේරුම් ගත්තොත් මේ කලබලය නැතිකරගන්න පුලුවන්. අපි හිතන විදියට නෙවෙයි මේවා සිද්ධ වෙන්නෙ. මේ බුද්ධ ශාසනය ප්‍රයෝජනය ගැනීම සිද්ධ වෙන්නෙ අපි හිතන විදියට නෙවෙයි. ගුණධර්ම වල පූර්ණයත් එක්ක. ඒ සඳහා ගුණධර්මම තමයි හොඳට පිරිලා තියෙන්නෙ ඕන වෙන්නෙ. ඉතින් ඒ නිසා අපි කතා කරමින් පවතින්නෙ බුදුරජාණන් වහන්සේගේ අනන්ත අපරිමාණ ගුණස්කන්ධය. එතකොට බුදුරජාණන් වහන්සේ පසුගිය කාලයේ අපි සම්බුදු සරණ තුළින් කතා කල දහම් කරුණු දිහා බලනකොට බුදුරජාණන් වහන්සේගේ ඤාණය ගැනම පහදින්න අපි ගත්තොත් බ්‍රහ්මජාල සූත්‍රය, කාලාකාරාම සූත්‍රය ආදී මේ දෘෂ්ටි, මේ ලෝකයේ තියෙන මිනිස්සුන්ගේ තියෙන දෘෂ්ටි විස්තර කිරීමම පුදුම සහගතයි. මේ ලෝකෙ කිසි කෙනෙක්ට මේවා නිරවුල් කරගන්න අවස්ථාවක් ලැබුන් නෑ. ඉතින් අද කල්පනා කලා නගර සූත්‍රය, අභිසමය සංයුත්තයේ සංයුත්ත නිකාය දෙක, නගර සූත්‍රය ඇසුරෙන්

බුදුරජාණන් වහන්සේ ගෞතම බුද්ධ ශාසනය කොයි විදියටද පිහිටුවා වදාලේ කියලා සාකච්ඡා කරන්න. එතකොට පින්වතුනි ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ලෝකෙට පහළ වීම තුළින් තමයි චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරනවා කියන එක ලෝකෙ පැතිරෙන්නෙ. බුදු කෙනෙක් පහළ නොවෙන්න චතුරාර්ය සත්‍යය කතාවක් නෑ. එතකොට බුදු කෙනෙක් ලෝකයේ පහළ නොවුනු කාලෙක මේ ලෝකයේ විමුක්තියක් හොයාගෙන එක එක්කෙනා කතා කරනවා. විමුක්තියක් සොයාගෙන යනවා. නමුත් විමුක්තියක් සොයාගෙන ගියාට විමුක්තියක් කතා කරගෙන ගියාට ඒ විමුක්තිය කොහොමද ලබන්නේ කියලා සත්‍යය වූ මාර්ගය දන්නා කෙනෙක්, දකිනා කෙනෙක් නෑ. දැන් අදටත් ඉන්දියාවේ ඉන්නවා, අදටත් ඉන්දියාවේ සාදුවරුන්ගේ නිකායවල් දහතුනක් තියෙනවා. ඒ සාධුවරුන්ගේ නිකායවල් දහතුනේ එක නිකායක විතරක් ඉන්නවා අදට දස ලක්ෂයක් සාධුවරු. සාධුවරු දසලක්ෂයක් ඉන්නවා එක නිකායක. සම්පූර්ණයෙන් ඉන්දියාවේ ගත්තොත් කෝටි පහකට කිට්ටුයි කියනවා සාධුවරුන්ම. එතකොට මේ ඔක්කොම ඒ සාධු ජීවිතයට, ඒ තපස් ජීවිතයට අවතීර්ණ වුනේ විමුක්තියක් හොයාගෙන. කාම ලෝකයෙන් බැහැර වෙලා. නමුත් ඔවුන් කිසි කෙනෙකුට කිසිම කෙනෙකුට, මේ කෝටි පහෙන් එක්කෙනෙකුටවත් බුද්ධං සරණං ගච්ඡාමි කියන එක නෑ. බුදුරජාණන් වහන්සේ සරණ යන් නෑ. ඇත්තටම ඔවුන්ට විමුක්තියක් ඕන නම් විමුක්තිය ලබලා දෙන විමුක්තිදායකයාණන් වහන්සේ එකම එක්කෙනයි තුන් ලෝකෙටම. ඒ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. ඒ බුදුරජාණන් වහන්සේ නාමිකව සරණ යෑමවත් ඒ විමුක්තියක් හොයාගෙන යන කෝටි පහකට නෑ. එතකොට ඔබ නිවසේ සිටිද්දි, සමහර වෙලාවට ඔබ නිවන් දකින්න ඕන කියලා පරම්පරාවෙන් එන වචනයෙන් කිව්වට ගොඩක් අයට එහෙම නිවන් දකින්න ඕන කියලා මහලොකු බලාපොරොත්තුවක් නෑ. කියන්නං වාලේ, අපි දෙව්වරුන්ට පින් දෙනකොට ආකාසට්ඨා ච බුම්මට්ඨා කියනවා මොකක්ද දන්නෑ. ඥාතීන්ට පින් දෙනකොට ඉදං මෙ ඥාති ඉනං හොතු කියනවා මොකක්ද දන්නෙ නෑ. ඒ වගේ තමයි පිනක් කරලා ඉවරවෙලා අනේ අපිටත් නිවන් දකින්න ඇත්නම් කියලා කියනවා, නමුත් නිවන කියන්නෙ මොකක්ද කියලා දන්නෙත් නෑ. ඒ සුලු පිරිසක් තමයි මේක තේරුම් අරන් ඉන්නෙ. හේතුව මිනිස්සුන්ගේ ගෙවල් වල තියෙන අලකලංචියි, ඒ ඔක්කොමත් එක්ක මිනිස්සු කල්පනා කරන්නෙ අමුතු අමුතු දේවල්. ඉන්නෙ අමුතු ලෝක වල. ඉතින් ඒ අතරෙ තමයි යාන්තං මේ බණ පදයක් ඇහෙන්නෙ. ඉතින් මේ ධර්මය

අහනකොට ඔන්න ටිකක් ඒ වෙලාවට හරි හිතෙනවා අනේ නිවන් දැක්කා නම් හොඳයි කියලා. ඉතින් නමුත් මුළු ජීවිතේම නිස්සාරව ගෙවනවාට වඩා මොහොතක් හරි නිවන පැතුවා නම්, නිවනට ආසා හිතුනා නම්, නිවනට කැමැති වුනා නම් ඒකම ශ්‍රේෂ්ටයි. එතකොට මේ කියන්න උත්සාහ කලේ අමා මහ නිවනක් ගැන බුදු කෙනෙක් පහළ නොවෙන්න කිසි කෙනෙක් දේශනා කරන් නෑ. බුදුරජාණන් වහන්සේමයි දේශනා කරන්නෙ. එතකොට එතෙක් විමුක්තියක් සොයාගෙන යන ඔක්කෝම ටික, ආයෙ භවයේමයි සැරිසරන්නෙ. දෘෂ්ටි වලමයි සැරිසරන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කලා, බුදුරජාණන් වහන්සේ මේ නිවන් මාර්ගය සොයාගත්ත හැටි. බුදුරජාණන් වහන්සේ වදාළා සෙය්‍යථාපි භික්ඛවෙ පුරිසො අරඤ්ඤෙ පවනෙ චරමානො, බුදුරජාණන් වහන්සේ වදාළා ඔන්න එක්තරා පුරුෂයෙක් කැලේ මහා වනයේ හැසිරෙනවා, පස්සෙය්‍ය පුරාණං මග්ගං පුරාණඤ්ජසං පුබ්බකෙහි මනුස්සෙහි අනුයාතං සො තමනුගච්ඡෙය්‍ය, දැන් ඔන්න මෙයා කැලේ ඇදගෙන ඇවිදගෙන යනකොට මෙයා දැක්කා පැරණි පාරක්, පුරාණ පාරක් දැක්කා මේ මහවනයේ ඇවිදින කෙනා. මෙයා ඒ පුරාණ පාර දිගේ යනවා. ඊටපස්සෙ එහෙම තමනුගච්ඡන්තො, ඒ විදියට ඊට අනුවම යනකොට පස්සෙය්‍ය පුරාණං නගරං, දැක්කා පුරාණ නගරයක්. පුරාණං රාජධානිං, පුරාණ රාජධානියක්. පුබ්බකෙහි මනුස්සෙහි අජ්ඣාවුත්ථං, පැරණි මිනිස්සු ගොඩාක් වාසය කරපු තැනක්. එතකොට ඒකෙ සටහන් තියෙනවා ඒ නගරයේ වල් බිහිවෙලා තිබුනට කලින් ගොඩාක් මිනිස්සු ඉඳලා තියෙනවා. රාජරාජ මහාමාත්‍යවරු ඉඳලා තියෙනවා. පුරාණ රාජධානියක් කියලා මෙයාට පේනවා. ඊටපස්සෙ ආරාමසම්පන්නං වනසම්පන්නං පොක්ඛරණීසම්පන්නං, ඒ වගේම උද්දාපං රමණීයං, මෙයාට පේනවා ආරාම වනරාම, ගස්කොලං, උද්‍යාන, කැලෑ පොකුණු සහිතව මේක බොහෝම ලස්සනට තිබ්බ රාජධානියක්. අථ ඛො සො භික්ඛවෙ පුරිසො රඤ්ඤො වා රාජමහාමත්තස්ස වා ආරොචෙය්‍ය, එයා ඉක්මණට දුවගෙන ඇවිල්ලා රජ කෙනෙකුට හරි රාජමහාමාත්‍යවරයෙක්ට හරි කියනවා භවත්නි, රජතුමනි, නැත්නම් රාජ ඇමැති තුමනි, මම කැලේ ඇවිදගෙන යනකොට මම දැක්කා පුරාණ රාජධානියක නටඹුන්. පුදුම සහගතයි ඒ එච්චර ලස්සනයි, ආඪ්‍යයි, ඒ වගේම පැරණි සියලූම සළකුණු එහෙ තියෙනවා. ඉතින් මෙයා මොකද කරන්නෙ, ඒ රජතුමා හරි අර රාජ අමාත්‍යවරයා හරි ආයෙත් අර සොයාගෙන ගිහිල්ලා අර රාජධානිය සම්පූර්ණයෙන්ම ශුද්ධ පවිත්‍ර කරනවා. ශුද්ධ පවිත්‍ර කරලා ඒ රාජධානිය නැවැත

මතුකරගන්නවා. නැවැත රාජධානිය මතු කරගෙන ඒ නගරය මවනවා. ඊටපස්සෙ අපරෙන සමයෙන ඊටපස්සෙ කාලෙක අනිත් අයට පේනවා, මේ නගරය ඉතාමත් ධන ධාන්‍යයෙන් ආඪ්‍ය වෙලා භවභෝග සම්පත්තියෙන් ආඪ්‍ය වෙලා බොහෝ ජනයා වාසය කරන ආකිණ්ණමනුස්සං වුද්ධිං වෙපුල්ලප්පත්තං, හොඳට වැඩුණු විපුල බවට පත්වුනු නගරයක් දකින්න ලැබෙනවා. එවමෙව ඛවාහං භික්ඛවෙ අද්දසං පුරාණං මග්ගං පුරාණඤ්ජසං පුබ්බකෙහි සම්මාසම්බුද්ධෙහි අනුයාතං, ආන්න ඒ වාගේ තමයි පින්වත් මහණෙනි, මමත් දැක්කා පැරණි පාරක්. මොකක්ද මේ පැරණි පාර. කලින් සම්මා සම්බුදුරජාණන් වහන්සේලා වැඩම කරපු පාරක් මම දැක්කා. කවුරුත් කිව්වෙ නෑ කාගෙන්වත් උපදෙස් අරගන්නැතිව තමන්ම දුටුවා පුරාණ පාරක්. කතමො ච සො භික්ඛවෙ පුරාණමග්ගො, මොකක්ද පින්වත් මහණෙනි කලින් සම්මා සම්බුදුවරු වැඩම කරපු පුරාණ මාර්ගය මොකක්ද. අයමෙව අරියො අට්ඨඞ්ගිකො මග්ගො, ඒක තමයි මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය. එතකොට ආර්ය අෂ්ටාංගික මාර්ගය කියන එක කලින් සම්මා සම්බුදුරජාණන් වහන්සේලා වැඩම කරපු පුරාණ මාර්ගය. ඊටපස්සෙ අන්න ඒ මාර්ගයේ ගමන් කරලා තමයි බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධ නැත්නම් මේ බුද්ධ රාජ්‍යය පිහිටෙව්වෙ. මොනවද ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගය කියන්නෙ, සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි. මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය තමයි පුරාණ මාර්ගය. එතකොට මේ පුරාණ මාර්ගයේ ගමන් කරලා බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධ රාජ්‍යය පිහිටෙව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා මං ඒ මාර්ගයේ ගමන් කරනකොට ජරා මරණ කියන දේ අවබෝධ කලා. ජරා මරණ හටගැනීම අවබෝධ කලා. ජරා මරණ නැතිවීම අවබෝධ කලා. ජරා මරණ නැතිවන මාර්ගය අවබෝධ කලා. ඒ ජරා මරණ හටගන්නේ ඉපදීම නිසා. ඒ ඉපදීමත් අවබෝධ කලා. ඉපදීමට හේතුවන කාරණාවත් අවබෝධ කලා. ඉපදීමට හේතුවන කාරණාව නිරුද්ධ කලා. ඒ සඳහා මාර්ගය වැඩුවා. මේ විදියට පටිච්චසමුප්පාදය යම්තාක් අංග තියෙනවා නම් ඒ සියල්ලම සම්පූර්ණයෙන්ම ඒ පටිච්චසමුප්පාදය පිළිබඳවත්, එහි සමුදයත්, නිරෝධයත්, මාර්ගයත් අවබෝධ කලා. චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කලා. පුරාණ මාර්ගයේ ගමන් කරලා. එහෙම අවබෝධ කරලා තදභිඤ්ඤා ආචික්ඛං භික්ඛූනං භික්ඛුනීනං උපාසකානං උපාසිකානං, බුදුරජාණන් වහන්සේ භික්ෂු භික්ෂුණී උපාසක උපාසිකා කියන සිව්වනක් පිරිසට ඒ මාර්ගය දේශනා කලා,

විස්තර කලා. ඊටපස්සෙ තයිදං භික්ඛවෙ බ්‍රහ්මචරියං ඉද්ධඤ්චෙව, දැන් ඒ පින්වත් මහණෙනි ඒ බ්‍රහ්මචරියාව, නිවන් මාර්ගය හොඳට වැඩිලා තියෙන්නෙ. ප්‍රසිද්ධ වෙලා තියෙන්නෙ. පිරිස අතරට ගිහිල්ලා තියෙන්නෙ. බොහෝ දෙනා අතර පැතිරිලා තියෙන්නෙ. බොහෝ ජනයා අතර පැතිරිලා තියෙන්නෙ. ඒ වගේම පෘථුලව පැතිරිලා තියෙන්නෙ. මිනිස්සු අතර ප්‍රකාශ වෙලා තියෙන්නෙ. එතකොට ඒ පුරාණ නගරයක් වගේ කලින් සම්මා සම්බුදුරජාණන් වහන්සේලා වැඩම කරපු ඒ සම්බුද්ධ රාජ්‍යය කාටවත් ප්‍රකට නොවී වැහිලාම තිබ්බෙ. එක්කෙනෙක්වත් නෑ ඒ නගරයේ වාසය කරන. කිසිම කෙනෙක් නෑ. එතකොට බුදුරජාණන් වහන්සේ තමයි මේ මාර්ගය හොයාගන්නෙ. බුදුරජාණන් වහන්සේ මාර්ගය හොයාගෙන දේශනා කරනවා. දේශනා කරද්දි තමයි ඉස්සෙල්ලාම මේ නගරයට ප්‍රවිශ්ට වුනා, කොණ්ඩඤ්ඤයන් වහන්සේ. ඊළඟට වප්ප, භද්දිය, මහානාම, අස්සජි ඒ උත්තමයන් වහන්සේලා. එක එක දේව ශ්‍රාවකයෝ, දෙවියන් බ්‍රහ්මයන් අතර එක එක්කෙනා ඒ රාජ්‍යයට ඇතුල් වෙනවා. සෝවාන් වීමත් එක්ක. තෙරුවන් සරණ යෑමත් එක්ක. ඊළඟට යසකුල පුත්‍රයා ඇතුලු යාළුවෝ පනස් හතර දෙනා ඒ නගරයට ඇතුල් වුනා. ඊළඟට භද්ද වග්ගිය කුමාරවරු තිස් දෙනා ඒ නගරයට ඇතුල් වුනා. ඊළඟට එක්දහස් තුනක් පිරිස - උරුවෙල් කාශ්‍යප, නදී කාශ්‍යප, ගයා කාශ්‍යප තුන්බෑ ජටිලයන්ගේ ඒ පිරිස බුද්ධ රාජ්‍යයට ඇතුල් වුනා. ඊටපස්සෙ රජගහනුවර අසූහාරදාහක් දෙනා මාර්ගඵල ලැබුවා, ධර්මය අහලා. ඒ පිරිස ඇතුල්වුනා බුද්ධ රාජ්‍යයට. කොහොමද ටික ටික පිරිස හැදි හැදී යන හැටි. ඒ බුද්ධ රාජ්‍යයේ තියෙනවා මල් වෙළෙඳසැල්, සුවඳ වෙළෙඳසැල්, පළතුරු වෙළෙඳසැල්. අර ගෞතම බුද්ධ රාජ්‍යය ගැන ඔබ අහලා ඇති මීට කලින්. ඊටපස්සෙ ඒ බුද්ධ රාජ්‍යයේ වීදි තියෙනවා මංමාවත්. ඒසිකා ස්ථම්භය තියෙනවා, දොරටුව තියෙනවා. දොරටු පාලකයො ඉන්නවා. ඊළඟට මේ රාජ්‍යයේ සෙන්පති කෙනෙක් ඉන්නවා, ධර්මෙ සේනාධිපති. ඊළඟට පුරෝහිත කෙනෙක් ඉන්නවා, දහම් පුරෝහිත. ඊළඟට නගරාරක්ෂක අමාත්‍යවරු ඉන්නවා, ධර්ම විනිශ්චයකාරවරු ඉන්නවා. මේ විදියට මේ බුද්ධ රාජ්‍යය ගොඩනැගී ගොඩනැගී බොහෝ දෙනා නිකෙලෙස් ජනයා සැරිසරන භූමියක් බවට පත්වෙනවා. හැබැයි මේ භූමිය ඉස්සෙල්ලාම එකම එක්කෙනෙක්වත් එන්නැතිව තිබ්බෙ. ඒ පාරෙ එකම එක්කෙනෙක්වත් ගිහිල්ලා නෑ. එතකොට බුදුරජාණන් වහන්සේ තමයි සම්මා සම්බුදුරජාණන් වහන්සේලා ගමන් කරපු ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගිහිල්ලා ගෞතම බුද්ධ රාජ්‍යය හඳුනාගත්තෙ. එතකොට ඒ බුද්ධ රාජ්‍යය ඇතුලත සැරිසරනවා

ශ්‍රද්ධාවන්ත අය, ශ්‍රද්ධානුසාරී, ධම්මානුසාරී, ඊළඟට සෝතාපන්න, සකදාගාමී, අනාගාමී, අර්හත් මේ උත්තමයන් වහන්සේලා සැරිසරනවා. එතකොට ගෞතම බුද්ධ රාජ්‍යය කියන්නෙ තනිකර ගුණවතුන්ගෙ, උතුම් අයගේ ශ්‍රේෂ්ට අයගේ රාජධානියක්, උපමා වශයෙන් ගත්තොත් එහෙම. එතකොට නගරයක් අලුතින් එළිපෙහෙළි කරගන්නවා වාගේ තමයි සම්මා සම්බුදුරජාණන් වහන්සේ ගෞතම බුද්ධ ශාසනය කියන එක ලෝකෙට හඳුන්වලා දුන්නෙ. ඉතින් අද අපි බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ තෙරුවන් සරණ ගිහිල්ලා පිනක් දහමක් කරගන්නවා නම්, ඊළඟට ඒ දහමේ වචන අපි ඉගෙන ගන්නවා නම් ඒ දහම ඉගෙන ගන්නවා නම්, ඒ දහමේ පිළිසරණක් ඉගෙන ගන්නවා නම් අපි ඔක්කොම මේ බුද්ධ රාජ්‍යයට තමයි පැමිණිලා තියෙන්නෙ. එතකොට ඒ බුද්ධ රාජ්‍යයට පැමිණෙනකොට හොඳට මතක තියාගන්න ඕන, මේ බුද්ධ රාජ්‍යයේත් අසූ මහා ශ්‍රාවකයන් ඇතුළු කෝටි ගණන් වැඩහිටපු අතීතයේ ශ්‍රාවක සඟරුවන, ඊළඟට දහම් ඝෝෂාව පැතිරුණු, ධුතාංග ගුණයෙන් බැබලුන මහා ශ්‍රාවක පිරිසක් වැඩ හිටියා බුද්ධ ශාසනේ. නමුත් මේ බුද්ධ ශාසනේ ඉස්සෙල්ලාම කවුරුවත් නොගිය, කවුරුවත් දැනගෙන හිටපු නැති පුරාණ රාජධානියක් වගේ. මේ රාජධානියෙ පාරෙ ආර්ය අෂ්ටාංගික මාර්ගය නැමැති මාවතේ පෙර සම්බුදුවරු ගමන් කරපු මාවතේ බුදුරජාණන් වහන්සේ තමයි වැඩම කළේ. එතකොට මේ රාජධානියෙම බුදු සසුනේම, අතීතයේ කකුසඳ, කෝණාගමන, කාශ්‍යප කියන බුදුරජාණන් වහන්සේගේ කාලවලත් සෝතාපන්න අය සකදාගාමී අය අනාගාමී අය අර්හත් මාර්ග ඵල ලාභීන් වැඩ හිටියා. තෙරුවන් සරණ ගිය අය, ධර්මය කියන අය, විනය කියන අය, ඒ දහම ප්‍රතිපදාව පුරුදු කරන අය කලින් බුද්ධ ශාසන වලත් වැඩ හිටියා. ඒ තමයි කලින් බුද්ධ ශාසනය. කාශ්‍යප බුදුරජාණන් වහන්සේගේ බුද්ධ රාජ්‍යය, කෝණාගාම බුදුරජාණන් වහන්සේගේ බුද්ධ රාජ්‍යය, කකුසඳ බුදුරජාණන් වහන්සේගේ බුද්ධ රාජ්‍යය. එතකොට ඒ කලින් බුදුවරු බුද්ධ රාජ්‍යය පිහිටෙව්වා. ඒ ශ්‍රාවකයො මාර්ග ඵල ලාභීන් නැතිවීමත් එක්ක ඒ බුද්ධ රාජ්‍ය වැසී ගියා. පුරාණ වෙලා ගියා. වනයෙන් සැඟවී ගියා. එතකොට ආයෙ බුදු කෙනෙක් පහළ වෙලා තමයි මේක ආරම්භ කරන්නෙ. වෙන කිසි කෙනෙකුට ඉස්සෙල්ලාම ඒ මාවතේ යන්න බෑ. බුදුරජාණන් වහන්සේ තමයි ඒ මාවතේ යන්නෙ. බෝසත් කාලෙ. ඉතින් ඒ නිසා දැන් තේරුම් ගන්න මේ බුද්ධ ශාසනේම ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ. අපේ නෙවෙයි. මේ බුද්ධ රාජ්‍යයේ අයිතිකාරයා, ධර්ම ස්වාමී, ධර්ම රාජ බුදුරජාණන් වහන්සේ. අපි නෙවෙයි. අපි වනාහි

ශ්‍රාවකයො. එතකොට අපිට තියෙන්නෙ බුදුරජාණන් වහන්සේ කුමක්ද වදාළේ, ඒ වදාළ කාරණාව ඉගෙන ගෙන පුරුදු කිරීම තියෙන්නෙ අපිට. එතකොට ඒකට අපිට තියෙන්න ඕන හොඳට දැන් මේ කාරණාව සුළු කාරණාවක් නෙවෙයි මේ බුද්ධ රාජ්‍යය ඉස්මතු කලා කියන එක. බුදුරජාණන් වහන්සේ තමයි දුක්ඛ ආර්ය සත්‍යය කියන එක දේශනා කලේ. සමුදයාර්ය සත්‍යය දේශනා කලේ. මාර්ග ආර්ය සත්‍යය දේශනාකලේ. එතකොට ජාතිපි දුක්ඛා, ජරාපි දුක්ඛා, ව්‍යාධිපි දුක්ඛො, මරණම්පි දුක්ඛං, අප්පියෙහි සම්පයොගො දුක්ඛො, පියෙහි විප්පයොගො දුක්ඛො, යං කිඤ්චං නලභති තම්පි දුක්ඛං සංකිච්චෙන පඤ්චුපාදානක්ඛන්ධා දුක්ඛා ආදී වශයෙන් දුක්ඛාර්ය සත්‍යය දේශනා කලේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක්මයි. ඒ බුදුරජාණන් වහන්සේගේ හදමඬලෙන් අවබෝධ කරපු ධර්මය මෙන්න දුක්ඛ ආර්ය සත්‍යය කියලා ලෝකෙට ප්‍රකාශ කලා. ඒක වෙනස් කරන්න මේ ලෝකයේ දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකෙ කිසිවෙකුට හැකිවෙන්නෙ නෑ. වෙනස් කරන්නත් එපා, වෙනස් කරන්න හදන්නත් එපා, වෙනස් කරන්න හිතන්නත් එපා. ඒක බුදු කෙනෙක්මයි දේශනා කලේ. එහෙනම් චතුරාර්ය සත්‍යය ගැන යම්කිසි විශ්වාසයක් ඇතිවෙනවා නම් එයාට විශ්වාසය ඇතිවෙන්නෙ බුදුරජාණන් වහන්සේ ගැන. ඇයි බුදුරජාණන් වහන්සේනෙ මේක දේශනා කලේ. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කලා, දුක්ඛ සමුදය, එහෙම නැත්නම් දුක හටගන්න හේතුව, බුදුරජාණන් වහන්සේ වදාළා තෘෂ්ණාව. යායං තණ්හා පොනොභවිකා නන්දිරාග සහගතා තත්‍රතත්‍රාභිනන්දනි සෙය්‍යතෙදං කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා, එතකොට ඒ ඒ තැන සතුටින් පිළිගන්න, පුනර්භයක් ඇති කරලා දෙන තෘෂ්ණාව කාම තණ්හා, භව තණ්හා, විභව තණ්හා විදියට තියෙන ඒ තෘෂ්ණාව තමයි දුක්ඛ සමුදය. ඔබගේ හිතේ යම්කිසි තෘෂ්ණාවක් තියෙනවා නම් ආසාවක් තියෙනවා නම්, ඇල්මක් තියෙනවා නම් ඒ ඔක්කොම අයිති තෘෂ්ණාව, නැතිනම් දුක්ඛ සමුදය. ඒ තුළින්ම තමයි එතකොට දුක උපද්දවන්නෙ. ඒ තුළින්ම තමයි ඔබට සංසාරය හදලා දෙන්නෙ. එතකොට මේ එය බුදුරජාණන් වහන්සේ නමක්මයි අවබෝධ කලේ පුරාණ රාජධානියක තිබ්බ මේ ධර්මතාවය පෙර බුදුරජාණන් වහන්සේලා අනුගමනය කරපු මාවතේ ගමන් කරලා ඒ දුක්ඛ සමුදය බුදුරජාණන් වහන්සේ හැර මේ ලෝකයේ ගුරු උපෙද්ශ රහිතව අවබෝධ කරපු වෙන කෙනෙක් නෑ. බුදුරජාණන් වහන්සේ අවබෝද කරලා ශ්‍රාවකයාට දේශනා කරනකොට පූරිත පින් බලයෙන්

යෝනිසොමනසිකාරය හිතේ වැඩ කරන ශ්‍රාවකයා ඒක අවබෝධ කරනවා. එතකොට ඒ අවබෝධය පිණිස බුදුරජාණන් වහන්සේගෙන් එක වචනයක් හරි ඕන. මේ බුදුරජාණන් වහන්සේගේ දහම් වැඩපිළිවෙලින් ඒ බණ පදයක්, එක බණ පදයක් හරි ඕන මේක අවබෝධ කරන්න. තුන් ලෝකයටම බුදුරජාණන් වහන්සේ හැරුණු කොට ප්‍රඥාවෙන් අග්‍ර සාරිපුත්ත මහරහතන් වහන්සේ, ඒ සාරිපුත්තයන් වහන්සේට පවා යෙ ධම්මා හේතුප්පගවා තේසං හේතු තථාගතෝ ආහ කියන බණ පදය ඇහෙන්න සිද්ධ වුනා, ඒ සියලු ධර්මතා අවිජ්ජා පච්චයා සංකාරා, සංකාර පච්චයා විඤ්ඤාණාදී වශයෙන් පටිච්ච සමුප්පාදය සහිත ඒ සියලුම වැඩපිළිවෙල අවබෝධ කරන්න අර බණ පද දෙක උපකාරී වුනා. ඒක එන්නම ඕන. ඒ නිසා මේ දුක්ඛ සමුදය කියලා බුදුරජාණන් වහන්සේ යමක් දේශනා කලා නම් මේ තෘෂ්ණාව නිසයි දුක උපදින්නෙ කියලා ඒක ඔබ පිළිගන්න. සරණ යන්න. ඒක වෙනස් කරන්න හිතන්නත් එපා, වෙනස් කරන්නත් එපා, ඒ සඳහා උත්සාහ කරන්නත් එපා. ඔබට තියෙන්නෙ සරණ යන්න ශාස්තෘන් වහන්සේගේ. අපේ එක එක්කෙනාගෙ මති මතාන්තර මෙතෙන්ට කිසිසේත් අදාළ නෑ, අපිට සාමාන්‍යයෙන් අපේ අදහස් දක්වලා අපේ මති මතාන්තර ලෝකෙට කියලා, වැඩිය ඕන නෑ මරණාධාර සමිතියේ වැඩපිළිවෙළක්වත් කරන්න බෑ. ඉස්කෝලේ ළමයින්ගේ වැඩසටහනකවත්, ළමා සමාජයක්වත් වැඩක් කරන්න බෑ එක එක්කෙනාගේ අදහස් දාලා. එහෙව් එකේ මේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ වගේ උත්තමයන් වහන්සේ නමක් ලෝකෙට පහළ වෙලා නිවනක් ගැන දේශනා කරද්දි ඒ නිවන් මාර්ගය එක එක්කෙනාගේ අදහස් උදහස් මත යන්න පුලුවන් එකක් නෙවෙයි. ඒ නිවන් මාර්ගයේ ගමන් කරන්න තියන්නේම, ඒ නිවන් මාර්ගයේ ගමන් කරපු, ඒ නිවන් මාර්ගය ගැන දේශනා කරපු, සියලු ලෝක සත්ත්වයා ගැන අවබෝධයක් තියෙන බුදුරජාණන් වහන්සේගේ සරණ තුළින්මයි. මේ බුදුරජාණන් වහන්සේගේ සරණ කියන්නෙ, සරණට ආවට පස්සෙ එතනින් එහාට වෙන දෙයක් එයා හිතන් නෑ. එයාට ඕනවෙන්නෙ බුදුරජාණන් වහන්සේ වදාළ ක්‍රමයටම හිතන්න. දැන් මම දැකලා තියෙනවා ගොඩාක් අය මේ පටිච්ච සමුප්පාදය පටලගන්නවා. ඉතින් පටිච්ච සමුප්පාදය පටලවා ගන්නෙ පටිච්ච සමුප්පාදය හිතනවා කොහොමද මේක වුනේ, කොහොමද වුනේ, කොහොමද වුනේ කියලා. එතකොට කොහොමද වුනේ, කොහොමද වුනේ, කොහාමද වුනේ කියලා හොයන්න අවශ්‍යතාවයක් නෑ. බුදුරජාණන් වහන්සේ සතිස් කෝටි සිය දහස් වාරයක්, ඒ කියන්නෙ ලක්ෂ තිස් හත් කෝටියක්, බුදුරජාණන්

වහන්සේ ලක්ෂ තිස් හත් කෝටි වාරයක් හිතෙන් විමසුවා මේ සංසාර පැවැත්ම හටගන්න හැටි. පටිච්ච සමුප්පාදය. ඒ ලක්ෂ තිස් හත් කෝටියක් නුවණින් විමසලා බුදුරජාණන් වහන්සේ අවසානෙට දේශනා කලා මෙන්න මේ විදියටයි පටිච්ච සමුප්පාදය නැත්නම් සංසාර දුක හටගන්නෙ. අවිජ්ජා පච්චයා සංකාරා, සංකාර පච්චයා විඤ්ඤාණං, විඤ්ඤාණ පච්චයා නාමරූපං, නාමරූප පච්චයා සලායතනං ආදී වශයෙන්. එතකොට බුදුරජාණන් වහන්සේ ලක්ෂ තිස් හත් කෝටියක් නුවණින් විමසලා දේශනා කලා. ලොව්තුරා සම්බුදු කෙනෙක් විදියට දේශනා කලා. නිවනට පත් වූ උත්තමයෙක් විදියට දේශනා කලා. ඒවා අපිට අඩු කරන්න, කොටස් කරන්න, නිකං වචන එහෙන් මෙහෙන් දාන්න අපිට අයිතියක් නෑ. අපි ලක්ෂ තිස් හත් කෝටි වාරයක් අඩුම තරමේ සජ්ඣායනා කරලාවත් තියෙනවාද නුවණින් විමසීම පසෙක තැබේවා. ලක්ෂ තිස් හත් කෝටිය පැත්තකින් තියන්න. තිස්හත් දාහක්වත් සජ්ඣායනා කරලා තියෙනවාද, තුන්සිහ හැත්තෑවක්වත් සජ්ඣායනා කරලා තියෙනවාද. සමහර වෙලාවට මහා ඉහළින් කතා කරනවා. තිස් හත් වාරයක් වත් පටිච්ච සමුප්පාදය සජ්ඣායනා කරලා තියෙනවාද, කෝටි ගැන කවර කතාද, ලක්ෂ ගැන කවර කතා ද. එහෙම නැතිව වචන ටිකක් අල්ලගෙන මේ බුද්ධ ශාසනයේ හරඹ කරන්න එපා. සරණ යන්න තියෙන ශාසනයක, අවබෝධය පිණිස ප්‍රතිපදාවක යන්න තියෙන ශාසනයක මඟ වරදවා ගන්න එපා. ඒ නිසා ඔබත් බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. එතකොට පින්වත්නි, එතකොට බුදුරජාණන් වහන්සේ නමකට තමයි මේ ලෝකෙ හාහාපුරා කියලා නිවන ගැන දේශනා කරන්නෙ. දුක ගැන, දුක්ඛ සමුදය, දුක්ඛ නිරෝධය, නිවන. එතකොට දුක්ඛ නිරෝධය දේශනා කරද්දි බුදුරජාණන් වහන්සේ වදාළා යො තස්සා යෙව තණ්හා අසෙස විරාග නිරෝධො චාගො පටිනිස්සග්ගො මුත්‍යානාලයො, ඒ තෘෂ්ණාව ඉතුරු නැතිව නොඇල්මෙන් නිරුද්ධ කිරීමක් ඇත්ද, ඒක තමයි අමා මහ නිවන කියලා කියන්නෙ. දුක්ඛ නිරෝධය. එතකොට නිවන කියන එකට වෙන අර්ථකථන අවශ්‍ය නෑ. තණ්හංකයොරාධ නිබ්බාණං, තෘෂ්ණාව ක්ෂය වීමම තමයි නිවන. එහෙම නැත්නම් නිවන කියන්නෙ රතුපාටක්, සුදුපාටක් වගේ ඒ පාටකින් හෝ එහෙම නැත්නම් භාවනා කර කර ඉන්නකොට එකපාරම ඇඟ ගැස්සිලා ඇඟ සීතල වෙන එකක් හෝ එහෙම එකක් නෙවෙයි, තෘෂ්ණාව ක්ෂය වීමමයි. ඒ නිසා ඒ කාරණාව හොඳට අපි තේරුම් ගන්න ඕන. පැරණි නගරයක් එළි පෙහෙලි කරලා දේශනා කරනවා වගේ, විස්තර කරනවා

වගේ ඒ නගරය ලෝකෙට මවාපානවා වගේ බුදුරජාණන් වහන්සේ පැරණි සම්මා සම්බුදුරජාණන් වහන්සේලා යම් විදියකින් චතුරාර්ය සත්‍යය ධර්මය දේශනා කලාද, ඒ විදියටම අපේ බුදුරජාණන් වහන්සේත් චතුරාර්ය සත්‍යය ධර්මය දේශනා කළා. එතකොට ඒ තියෙන ආර්ය අෂ්ටාංගික මාර්ගය මේ බුද්ධ ශාසනයෙ හැර වෙන කොහෙවත් නෑ. දැන් තියෙනවා බුද්ධ ශාසනයෙන් හොරකම් කරගෙන. මං කිව්වෙ අර ඉන්දියාවෙ තපස්‍යා ක්‍රම, සාධුවරුන්ගේ කණ්ඩායම් දහතුනක් තියෙනවා කියලා. ඒකෙන් එක කණ්ඩායමක් තියෙනවා නිර්වාණ තපස්‍යා ක්‍රමය කියලා. ඒ සාධුවරු ඒ වචනෙ අරගෙන. පින්වතුනි හරි පුදුම සහගත දෙයක්, ඒ තමයි මේ ලෝකයේ වෙනත් ආගමකින් එකම එක වචනයක් වත් හොරකම් කරගත්තෙ නැති පිරිසිදුම ශාසනය බුද්ධ ශාසනය. අනිත් හැම ආගමකම බුද්ධ ශාසනෙන් වචන හොරකම් කරලා තියෙනවා. දැන් ලෝකෙ භාෂා හැත්තෑ හයකටත් වැඩිය මගෙ හිතේ පරිවර්තනය වෙලා තියෙනවා, ඒ පරිවර්තනය වෙලා තියෙන පොතක් තමයි විෂ්ණු ශර්මන්ගේ පඤ්ච තන්ත්‍රය. එතකොට විශ්ණු ශර්මන්ගේ පඤ්ච තන්ත්‍රය ගත්තොත් එහෙම ඒ පුරාම තියෙන්නෙ ජාතක කතා වලින් හොරකම් කරපු එකක්. නමුත් තකෂිලාවේ ආචාර්යවරයෙක් විදියට, බ්‍රාහ්මණ ධර්මයක් උගන්වන කෙනෙක් විදියට, බ්‍රාහ්මණ ආචාර්යවරයෙක් විදියට ඔහු ඒ ධර්මය උගන්වන්නෙ. නමුත් ඒ කතා කියවලා බලනකොට ඒකෙ තියෙන්නෙ ජාතක කතා. හොරකම් කරලා. නිගණ්ඨයොත් එක්ක කතා කරපුවාම, නිගණ්ඨයොත් කියනවා නිර්වාණය ගැන. නිගණ්ඨයො කියනවා ආර්ය අෂ්ටාංගික මාර්ගය ගැන වචන කියනවා, බුද්ධ ශාසනෙන් හොරකම් කරගෙන. ඊළඟට දැන් ඔය අපේ රටෙත් තියෙන ආගම්වලත් තියෙනවා වචන කොච්චර හොරකම් කරලද, සැදැහැවතුනි, පින්වත්නි, ස්වාමීන් වහන්ස, දැන් බලන්න කීදෙනෙක් වචන ටික හොරකම් කරලද කියල තියෙනවාද කියලා. බුද්ධ ශාසනයේ නායක ස්වාමීන් වහන්සේලා, නායක හිමිපාණන් වහන්සේලා, ඒවා පවා හොරකම් කරගෙනනෙ. ඒ නිසා මේ ලෝකෙ යම්කිසි දහමක් තියෙනවා නම් වෙනත් කිසිම ආගමකින් එකම එක වචනයක්වත් හොරකම් කරපු නැති, ඒ එකම එක පිරිසිදු දහම ගෞතම බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුද්ධ ශාසනයයි. බුදු කෙනෙක්ගේ බුද්ධ ශාසනයම එහෙම එකක් කියලා අපිට මේකටම පහදින්න කාරණාවක්, මෙයම. ඒ නිසා හොඳට මතක තියාගන්න බුද්ධ ශාසනය කියන එක වෙනත් ආගමකින් යමක් හොරකම් කරගත්ත එකක් නෙවෙයි. ඒක ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක්ම පහළ වෙලා

දේශනා කරපු දෙයක්. ඊළඟට පින්වත්නි, බුදුරජාණන් වහන්සේ දේශනා කරපු ආර්ය අෂ්ටාංගික මාර්ගය. ඒකත් පෙර සම්මා සම්බුදුරජාණන් වහන්සේලා අනුගමනය කරපු ඒ මාර්ගය අපේ බුදුරජාණන් වහන්සේ සොයාගන්නවා. ලෝකෙට දේශනා කරනවා. එතකොට මේ මුලු බුද්ධ ශාසනයටම නිවන් මාර්ගය, ආර්ය අෂ්ටාංගික මාර්ගය සොයාගත්තා කියලා කියන එක එකම එක්කෙනෙකුට අයිති එකක්. ඒක බුදුරජාණන් වහන්සේට. දැන් ඔබට මතක ඇති අසිරිමත් සංසාර චක්‍රය සිඳලන අසිරිමත් දම්සක දහම් වැඩසටහනේදී ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගය ගැන විස්තර කරලා බුදුරජාණන් වහන්සේ ලෞකික ලෝකෝත්තර වශයෙන් ඒ ආර්ය අෂ්ටාංගික මාර්ගය වැඩෙන ආකාරය විස්තර කරපු මහා චත්තාරී සූත්‍රය, එතකොට ඒ ධර්ම දේශනා අහනකොට තේරෙනවා බුදුරජාණන් වහන්සේ කොච්චර පුදුම සහගත විදියට විස්තර කර කර, විභාග කර කර නිවන් මාර්ගය ශ්‍රාවකයාට දේශනා කලා. එතකොට එච්චර පැහැදිළිව බුදු කෙනෙක් ධර්මය දේශනා කරද්දිනුත් ඒ බුදුරජාණන් වහන්සේ සරණ යන්නැතිව මේ එක එක්කෙනා සරණ ගිහිල්ලා. සමහර විට බණ කියනවා නම් ඒ බණ කියන කෙනා සරණ යනවා. එහෙම නැත්නම් භාවනාවක් දුන්නොත් භාවනාව කරන කෙනා සරණ යනවා. එතකොට මේ තියෙන මුලාව මේ මිනිස්සුන්ගේ සිත් වලින් කවද්ද නැතිවෙන්නෙ. ශාස්තෘන් වහන්සේ ශාස්තෘන් වහන්සේ විදියට, ඒ මාර්ගය ප්‍රතිපදාව අයිති බුදුරජාණන් වහන්සේට. දේශකයාණන් වහන්සේ හෝ භාවනා උගන්වන කෙනා අයිති දහම් ගුරුවරයෙක් විදියට. ඉතින් ඒ කරුණු කාරණා විභාග විස්තර කරගන්න බැරිව දහම් ගුරුවරයෙක් විදියට ධර්මය උගන්වන කෙනා ශාස්තෘන් වහන්සේ කරගත්තොත් එහෙම ඒ කෙනාට ලොකු වරදක් සිද්ධ වෙනවා. ඉතින් ඒ නිසා තමයි හොඳට මතක තියාගන්න ඒ නිසා තමයි මෙච්චර කියලා දෙන්නෙ බුදුරජාණන් වහන්සේ සරණ යන්න. ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝ රත්නය සරණ යන්න. තෙරුවන් සරණ යන්න තියෙන්නෙ. එතකොට මේ චතුරාර්ය සත්‍යය වුනත් ලෝකයේ කවුරුවත් මීට කලින් දේශනා කරන් නෑ. බුදුරජාණන් වහන්සේ නමක්මයි චතුරාර්ය සත්‍යය දේශනා කරන්නෙ. හාහාපුරා කියලා ලෝකෙට ඒ උතුම් චතුරාර්ය සත්‍යය දේශනා කරනකොට මිහිමඩල කම්පා වෙනවා. දස දහසක් ලෝක ධාතු කම්පා වෙනවා. එතකොට බුදුරජාණන් වහන්සේ තමයි පටිච්ච සමුප්පාදය දේශනා කරන්නෙ. පඤ්චුපාදානස්කන්ධය, ආයතන හය අවබෝධ කරන විදියට, ස්කන්ධ ධාතු අවබෝධ කරන විදියට, සත්තිස් බෝධි පාක්ෂික ධර්ම නැමැති මාර්ගය විස්තර

කරන ඒවා, ආර්ය අෂ්ටාංගික මාර්ගය විස්තර කරන ඒවා. ඊළඟට බුද්ධ ශාසනයේ ශාසන ප්‍රතිපදාවක් විදියට තියෙන සමාධි සමාපත්ති, විමෝක්ෂ, ඊළඟට ඒ ආදී වශයෙන් ඒ සමාධි භාවනා ක්‍රම උගන්වන්නෙ, ඒ ඔක්කොම බුදු කෙනෙක් ලෝකෙට පහළ වෙලා දේශනා කරන්නෙ. බුදු කෙනෙක් නැතිව නම් නෙවෙයි. ඒ නිසා මතක තියාගන්න බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙන එක කොච්චර ශ්‍රේෂ්ටද කියලා. කුසල් මේකයි අකුසල් මේකයි කියලා පැහැදිලිව විස්තර කරලා දෙන්නෙ බුදුරජාණන් වහන්සේ. දැන් රාග, ද්වේෂ, මෝහ සත්ත්වයාට කොච්චර අයහපත පිණිස පවතිනවාද කියලා මේ කෙලෙස් වල තියෙන භයානක කම කියලා දෙන්නෙ බුදුරජාණන් වහන්සේ. එතකොට අපි යම්කිසි පිනක් අද රැස් කරගන්නවා නම්, අද අපේ ජීවිතේ යම්කිසි කුසලයක් රැස් කරගන්නවා නම් එහි පුරෝගාමී වුනේ ඒක ලෝකෙට පළවෙනි වතාවට දේශනා කලේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. පැරණි නගරයක් ශුද්ධ පවිත්‍ර කරලා බොහෝ දෙනාට වාසය කරන්න සලස්වනවා වගේ. ඒ මාවතේ ඉස්සෙල්ලාම ගියෙ අද අපි බුද්ධ ශාසනේ යම් පිහිටක් ලබාගෙන, අපි කියනවා නම් අපි බුද්ධ ශාසනය තුළ ඉන්න අය කියලා බුද්ධ රාජ්‍යය තුළ ඉන්න අය කියලා, එහෙනම් අපිට ඒ රාජ්‍යයේ ඉස්සෙල්ලාම පෙන්නුවෙ බුදුරජාණන් වහන්සේනෙ. ඒ මුල මේ දහම් මාර්ගය වැඩිච්ච විදිය, බුද්ධ ශාසනය ආරම්භ වෙච්චි විදිය, ඊළඟට අපි මේ ශාසනේ පිහිට ලබන විදිය පිළිබඳව ඔබ කල්පනා කළයුතුයි. එහෙම නැතිවුනාම තමයි සරණ පිහිටන් නැත්තෙ. තිසරණ සරණ නැතිවීම නිසා තමයි මේ ඕනම කෙනෙකුට අපිව බිලිබාගන්න පුලුවන්කම ලැබෙන්නෙ. කෙනෙක් කිව්වොත් බුදුන් උපන්නෙ ලංකාවෙ කියලා ඕන්න කට්ටියක් බිලිබාගෙන යනවා. තව මොනවහරි යකෙක් අදහපං කිව්වොත් මේන්න බිලිබාගෙන යනවා. ඊටපස්සෙ කිව්වොත් ඉතිහාසය වැරදියි කියලා ඕන්න බිලිබාගෙන යනවා. ඊටපස්සෙ විජය කුමාරයාට දොස් පරොස් කිව්වොත් ඕන්න ඒකට අහුවෙලා බිලිබාගෙන යනවා. මොකාක්හරි දේකින් බිලිබාගෙන යනවා. ඇයි ඒ? ශාසනයේ එයා පිහිටක් ලබලා නෑ, තෙරුවන් සරණ ගිහිල්ලා නෑ. බුදුරජාණන් වහන්සේ සරණ ගිහිල්ලා නෑ. ඒ නිසා මේ එක එක දෘෂ්ටි මතවාද වලට බිලිබාගෙන මේ බුද්ධ ශාසනයෙන් ඈතට ඈතට යම්කිසි කෙනෙක් යනවා නම්, ඒ ඔක්කොටම තිබ්බ මූලික සුදුසුකම නැතිවීම මොකක්ද, තිසරණ සරණ යෑමට තිබ්බ නොහැකියාව. පින්වතුනි තිසරණ සරණ යන්න තියෙන්න ඕන, හොඳ හැකියාවක්. ඒ හැකියාවට කියනවා යෝනිසොමනසිකාරය. යෝනිසොමනසිකාරය තිබ්බොත් සරණ යනවා. ඒ

යෝනිසොමනසිකාරයට තේරෙනවා බුදුරජාණන් වහන්සේ හැර ලෝකයේ තවත් මේ වාගේ උත්තමයෙක් පහළ වෙන් නෑ. මේ නිවන් මාර්ගය බුදුරජාණන් වහන්සේමයි ඉපැද්දුවෙ. යෝනිසොමනසිකාරය තියෙන කෙනාට ඒක වැඩ කරනවා. එයාට වෙන සාස්තර කරුවන් හෝ ඊළඟට වෙන දෙවිවරු හෝ භූතයො හෝ යක්ෂයො හෝ සරණ යන්න උවමනාවක් නෑ. ඇයි එයා දන්නවා යොනිසොමනසිකාරය තියෙන කෙනා තමන්ගේ ජීවිතයට තියෙන එකම පිළිසරණ රැකවරණය ආරක්ෂාව තිසරණය විතරයි. අනිත් ඔක්කොම තාවකාලිකයි. දෙවියන්ගෙන් උදව් ගත්තත්, යක්කුන්ගෙන් භූතයන්ගෙන් උදව් ගත්තත්, දේවාලෙන් උදව් ගත්තත්, යන්ත්‍ර මන්ත්‍ර වලින් උදව් ගත්තත් මේ ඔක්කොම තාවකාලිකයි. මරණයේදී කර්මානුරූපව උපත කරා යනවා. යොනිසොමනසිකාරය තියෙන කෙනාට ඒක තේරෙනවා. බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙලා ධර්මය දේශනා කරද්දි යොනිසොමනසිකාරය තිබ්බ කෙනා එක එල්ලෙම ධර්මය අවබෝධ කළා. ඒ පිරිසට කියනවා උග්.. කියලා. විපතිතඤ්ඤූ කියලා කියනවා ඒ කෙනාට විස්තර කරලා, විභාග කරලා, විස්තර වශයෙන් ධර්මය දේශනා කරද්දි අවබෝධ කරනවා. නෙයය කියලා පිරිසක් ඉන්නවා. නෙයය කියලා කියන්නෙ, නැවත නැවත මේ නවාංග ශාස්තෘ ශාසනයේ ඉගෙන ගන්නවා. මේ ධර්මය නැවැත නැවැත ඉගෙන ගනිද්දි ධර්මාවබෝධය සැලසෙනවා. අවසානෙට තියෙනවා පදපරම කියලා. ඒ කියන්නෙ පදය පරම කරගෙන ඉන්නවා. ඒ කියන්නෙ බුද්ධ වචනය හිතේ දරාගෙන ඉන්නවා, අවබෝධයක් නෑ. මාර්ග ඵල අවබෝධයක් හෝ ඒ ධර්මය නුවණින් විමසලා වටහා ගැනීමේ හැකියාවක් නෑ, නමුත් බණ පද මතකයි. ඒ විදියටම බණ පද මතක තියෙනවා. ඒකට කියනවා, ඊටපස්සෙ ඒ වචනත් එක්කම එයාගෙ මුළු ජීවිතේම තියෙන්නෙ. ඒ අයට කියනවා පදපරම කියලා. වචන කඩ කඩා බෙද බෙදා නිකං මේ දෘෂ්ටි පිටිපස්සෙ බුදුන් උපන්නේ කොහෙද කියලා ඒවා හොය හොයා යන අය අර හතරෙන් එකකටවත් අයිති නෑ. අද කාලෙ උගගටිතඤ්ඤො ධර්මය දේශනා කරපු පමණින් අවබෝධ කරන අය නෑ. සක්සුදක් සේ පැහැදිලියි. විස්තර වශයෙන් විභාග වශයෙන් දේශනා කරද්දි අවබෝධ කරන අයත් නෑ. අද කාලෙ හිටියොත් හොදම යොනිසොමනසිකාරයක් තියෙන කෙනා නෙයය, නැවැත නැවැත ධර්මය ඉගෙන ගෙන ධර්මය තේරුම් ගන්න අය එක්කෙනෙක් දෙන්නෙක් ඉන්න පුලුවන්. එතකොට අඩුම තරමෙ පදපරම, බණ පද ටිකවත් මතක තියාගෙන ඉන්න කෙනාට ඊළඟ ජීවිතේක හරි යොනිසොමනසිකාරයක් එයි.

නැත්නම් මේ අය මේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය අරගෙන වාද විවාද කර කර, ඒ වචන කඩ කඩා ඒ වචන වල දැන් ළඟදින් කෙනෙක් ඔය එක එක අමුතුවෙන් ධර්මය විස්තර කරන අය, ලෝමා කියන එක විස්තර කරලා තියෙනවා, ලෝ අමා. දැන් කේසා ලෝමා නකා දන්තා කියන එකේ ආයෙ විස්තර විභාග කතාවක් නෑ මේ ශරීරයේ තියෙන කුණප කොට්ඨාශයොනෙ. මේ වචන ටිකත් කැඩුවනෙ, ලෝ අමා. එතකොට බලන්න අර බුදුරජාණන් වහන්සේ මේ බුද්ධ ශාසනයේ ඉන්න පිරිස විස්තර කලානෙ, කොටස් හතරකින් උග්ගටතඤ්ඤාදී වශයෙන්. ඒකෙන් පදපරමට තියෙන තැනවත් නෑ. බුද්ධ වචනය පරම කරගෙන ඉන්න තැනවත් නෑ. මේ බුද්ධ වචනයත් විකෘති කරනවා. ඇයි මේ, සරණ යන්නැති නිසා. ඒ නිසා හොඳට අපිට තේරුම් ගන්න පුලුවන් වුනොත් මේ ගෞතම බුද්ධ රාජ්‍යය පිහිටුවා වදාළේ, මේ සදහම් නගරය මවා පා වදාළේ බුදුරජාණන් වහන්සේ. එහෙනම් බුදුරජාණන් වහන්සේගේ විශ්වාස කරනවා, බුදුරජාණන් වහන්සේගේ ධර්මය විශ්වාස කරනවා, ආර්ය මහා සංඝරත්නය විශ්වාස කරනවා. ඒ තැනින් තමයි මේක පටන් ගන්න තියෙන්නෙ. තෙරුවන් සරණ යන්නැතිව, තුණුරුවන් කෙරෙහි පැහැදෙන්නැතිව මේ නිවන් මාර්ගය පුරුදු කරනවා කියලා එකක් නෑ. ඒකයි දැන් දහම් වැඩසටහන් පහුගිය කාලෙ අපි දහම් වැඩසටහන් හැටක් විතර කලා බුදුරජාණන් වහන්සේගේ සරණ ගැනම. බුදුරජාණන් වහන්සේගේ ආපු ගමන් මාර්ගය. බුදුරජාණන් වහන්සේගේ අනේක ගුණ කඳ. අද වුනත් මේ බුදුරජාණන් වහන්සේගේ අනේක ගුණ කඳ අතුරින් එක්තරා ගුණයක් තමයි මේ දේශනා කලේ. ඒ මොකක්ද ඒ අද කියලා දුන්නු බුදුගුණය. පුරාණ නගරයක් හෙළිපෙහලි කරලා ඒ නගරය බොහෝ ජනයාට වාසය කරන්න සුදුසු විදියට රාජ්‍යයක් බිහි කරනවා වගේ පෙර සම්මා සම්බුදුරජාණන් වහන්සේලා ගමන් කරපු ආර්ය අෂ්ටාංගික මාර්ගය නැමැති මාර්ගයේ ගමන් කරලා උතුම් සදහම් නගරය ගෞතම බුදුරජාණන් වහන්සේ විසින් මවා පා වදාළා. නගරය ඉදිකොට වදාළා. ඒ සදහම් නගරය තමයි අපි මේ බණ පද ටිකක්වත් දැන් අහන්නෙ. කාලයක් ගිහිල්ලා ගිහිල්ලා මේකෙන් එක එක්කෙනා අඩුවෙලා මේ ඔක්කොම දොරටු වැහිලා මුලු නගරයේම එකම එක්කෙනෙක් වත් නැති තත්ත්වයට පත්වෙනවා. ආයෙ මේ පුරාණ නගරයෙන් ආයෙ ගමන් කරන්නෙ, මේ නගරය හොයාගන්නවා නම් හොයාගන්නෙ ආයෙ බුදු කෙනෙක්. එතකොට ආයෙත් අනාගතේ මෛත්‍රී තථාගත බුදුරජාණන් වහන්සේ පහළ වෙලා මේ මාර්ගයේ ගමන් කරලා ආයෙ අර සදහම් නගරය ගොඩනගනවා.

එතකොට ඒ සදහම් නගරය තුළ ධර්මය අවබෝධ කරන්න තියෙන්නෙ, අපි කාටත් එදාටත් තියෙන්නෙ චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න, අදටත් තියෙන්නෙ චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න. එදාටත් තියෙන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගමන් කරන්න. අදටත් තියෙන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගමන් කරන්න. එතකොට ඒ තියෙන මාර්ග ප්‍රතිපදාව අපි අද ගමන් කරන්නැතිව අත්හැරලා පස්සට කල්දැම්මොත් එහෙම මොකද වෙන්නෙ එදාටත් අපි කල් දදා යන පිරිසක් බවට පත්වෙයි. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ සරණ තුළ පිහිටලා මේ ධර්මය හොඳට ඉගෙන ගන්න. ගොඩාක් හොඳට ඉගෙන ගන්න. නැවැත නැවැත බණක් වුනත් එක පාරක් අහලා නවත්තන්නැතිව නැවත නැවත ශ්‍රවණය කරන්න. ඊටපස්සෙ තිසරණ සරණ යන්න. මේ මුලු බුද්ධ රාජ්‍යයේම හිමිකරුවා බුදුරජාණන් වහන්සේ බව සිහි කරන්න. අපිට නිවන් මාර්ගය තේරුම් ගන්න තියෙන්නෙ ධර්මයෙන් කියලා තේරුම් ගන්න. ඒ ධර්මය අනුගමනය කරලා රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කරපු ආර්ය මහා සංඝ රත්නය ගැන හද පත්ලෙන්ම ප්‍රසාදය ඇතිකරගන්න. දැන් බලන්නකො අංගුලිමාල වගේ චරිත එක බණ පදයෙන් දමනය වුනානෙ. බුදුරජාණන් වහන්සේගේ ශාසනය පින්වතුනි කොච්චර ශ්‍රේෂ්ටයිද. ඉතින් ඒ නිසා ඒ ශ්‍රාවක සංඝරත්නය සරණ යන්න. සෑය, බෝධිය, වෙහෙර විහාර ගැන චිත්ත ප්‍රසාදය ඇතිකරගන්න. දැන් ඔන්න බලන්න අංගුලිමාල මහා සෑ රජාණන් වහන්සේ ඉදිකලා. අංගුලිමාල මහා සෑ රජාණන් වහන්සේගේ සෑ ගර්භයේ හතරැස් කොටුවේ උඩ සර්වඥ ධාතූන් වහන්සේලා අට නමක් වැඩ සිටිනවා. සෑ ගර්භයේ අංගුලිමාල මහරහතන් වහන්සේගේම ධාතූන් වහන්සේලා දහස් නමක් වැඩ ඉන්නවා. අපගේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ මනුෂ්‍ය වර්ගයාට කරපු යහපතට, ලොකු ස්වාමීන් වහන්සේට ලැබිච්ච ත්‍යාගයක් ඒක. උන්වහන්සේට ලැබිච්ච දායාදයක් ඒක. ඒ උතුම් ධාතූන් වහන්සේලා දහස් නමක්. අංගුලිමාල මහරහතන් වහන්සේගේ. ඉතින් ඇසළ පුන් පෝය දවසේ අපි සියලු දෙනා ඇස්වලින් ඒ ධාතූන් වහන්සේලා දැක්කා. සංඝයා හත්සිය නමකට අධික සඟරුවන ධාතූන් වහන්සේලා සියැසින් දැක්කා. ඒ ධාතූන් වහන්සේලා සෑ ගර්භයේ තැන්පත් කලා. ඉතින් තෙරුවන් සරණ ගිය ශ්‍රාවකයෙකුට පහදින්න ඕන තරම් කාරණා. ඒ උතුම් චෛත්‍ය රාජයාණන් වහන්සේ ළඟට ගිහිල්ලා ඒ බුදුරජාණන් වහන්සේගේ සරණ දැන් ඒ අංගුලිමාල සෑයේ වාහල්කඩ වල අංගුලිමාල මහරහතන් වහන්සේගේ ප්‍රතිමා නිර්මාණය කරලා තියෙනවා, ජීවමාන ස්වභාවයෙන්. මේ දැන් නැගිට්ටියිදෝ

කියලා හිතෙනවා. ශ්‍රද්ධාවක් හිතට ආවම හරි පුදුමයි පින්වතුනි. ඒ ප්‍රතිමා නිර්මාණය කරලා, ඊළඟට සිතුවම් නිර්මාණය කරලා තියෙනවා. ඒ සිතුවම් කවදාවත් පින්සල් අල්ලපු නැති අය තමයි සිතුවම් කරලා තියෙන්නෙ. චෛත්‍යය රාජයාණන් වහන්සේ කවදාවත් මේසන් හැඳි අල්ලපු නැති අය අතින් ඉදිවෙලාගිය සෑරජාණන් වහන්සේ නමක්. සෑ රජාණන් වහන්සේ කොන්ත්‍රාත් දීලා අනිත් අයට, එහෙම හදපු සෑයක් නෙවෙයි. මේ සංඝයා ගොඩාක් පින් කරගත්තා. ශ්‍රද්ධාවේ ප්‍රාතිහාර්යයක් වගේ, අංගුලිමාල සෑරජාණන් වහන්සේ. දැන් මේ දවස්වල මල්පෙත් මං හදනවා. ඉතින් උදව් උපකාර කරන අයට අවස්ථාව තියෙනවා, වැඩ කටයුතු ටික ඉක්මණට ඉවර කරගන්න. ඉවර කරගෙන බොහෝ ජනයාට වඳින්න පුදන්න පුලුවන්. මේ තිසරණයට පැමිණෙනකොට පරණ වෙච්චි වැරදි එහෙම වද දෙනවා නම් අංගුලිමාල මහා සෑරජාණන් වහන්සේ වැඳ වැඳ ඒ සෑ රජාණන් වහන්සේගෙන් ආශිර්වාද ගන්න පුලුවන්. වරදින් අත්මිදෙන්න ආශිර්වාද ගන්න පුලුවන්. පසුතැවිල්ල අත්හරින්න ආශිර්වාද ගන්න පුලුවන්. එතකොට තමන්ගේ ජීවිතේ ගොඩාක් සුවපත් කරගන්න, සෑරජාණන් වහන්සේ නමක්, ස්වරණමාලී සෑ රජාණන් වහන්සේ, ජයසිරි මහා බෝධීන් වහන්සේ, අංගුලිමාල සෑ රජාණන් වහන්සේ, මේ බලන්න මේ සියලු සම්පත් ලංකාවේ තියෙනවානෙ. අවශ්‍ය දේ මොකක්ද, ශ්‍රද්ධාව. දැන් කියමු වෙන රටක ඉන්නකොට ශ්‍රද්ධාව පහළ වුනා කියලා, එයාගෙ ශ්‍රද්ධාව පෝෂණය කරගන්න එවැනි වටපිටාවක් නෑ. අපිට තියෙනවා වටපිටාවක්. ද්‍රෝණයක් ධාතූන්වහන්සේලා වැඩ ඉන්නවා රුවන්වැලිසෑයෙ. සම්බුදු වන මොහොතේ දකුණු පැත්තට තිබුනු ශාඛාව දක්ෂිණ බෝ සමිඳුන් උඩමලුවේ වැඩ සිටිනවා. බුදුරදුන්ගේ ඒ අකුධාතූන් වහන්සේ, දළදා වහන්සේ, ලලාට ධාතූන් වහන්සෙ, කේශ ධාතූන් වහන්සේ, ග්‍රීවාධාතූන් වහන්සේ, ඌර්ණ රෝම ධාතූන් වහන්සේ, නක ධාතූන් වහන්සේලා මේ ලක්දෙරණේ වැඩ සිටිනවා. අංගුලිමාල මහරහතන් වහන්සේගේ ධාතූන් වහන්සේලා දහස් නමක් එක සෑයක වැඩ සිටිනවා. ඉතින් මෙච්චර සම්පත්තියක් තියෙනවානෙ. එතකොට මේ ඕන කාරණාව මොකක්ද, ශ්‍රද්ධාව. සරණ. ඒ ශ්‍රද්ධාව සරණ තිබ්බා නම් ඒ අයට සෑයෙන් බෝධියෙන් පිහිට පිළිසරණ හදාගන්න තව තව පින් දහම් රැස් කරගෙන, තව තව කුසල් දහම් රැස් කරගෙන මේ ලැබුනු මනුස්ස ජීවිතේ පිහිට සලසාගන්න පුලුවන්. දුක්ඛිත සංසාරයෙන් නිදහස් වෙන්න අවස්ථාවක් හදාගන්න පුලුවන්. ඉතින් ඒ නිසා සිහි කරගන්න අපි සරණ ගිය ලොව්තුරා සම්මා සම්බුදු රජාණන්ව වහන්සේ තමයි මේ ගෞතම බුද්ධ රාජ්‍යය පිහිටුවා

වදාළේ. චතුරාර්ය සත්‍යය ධර්මය දේශනා කොට වදාළෙ. නිවන් මාර්ගය පෙන්වා වදාළේ. ඒ නිසා ඒ බුදුරජාණන් වහන්සේ සරණ යෑමක් ඇත්ද, ශ්‍රී සද්ධර්මය, ආර්ය මහා සංඝරත්නය සරණ යෑමක් ඇත්ද, එයම නිවනට මූලික කාරණයයි. ඒ නිසා දිවි තිබෙනතුරු නිවන් දකිනතුරු උතුම් සම්මා සම්බුදුරජාණන් වහන්සේ මම සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. මේ උතුම් තිසරණය තුළින් ඔබගේ ජීවිතය සුවපත් වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරනවා කොට්ටාවේ පදිංචි පින්වත් ගුණසිරි රාජපක්ෂ මහත්මයා, පියවතී කිත්‍රිආරච්චි මහත්මිය ඇතුලු පවුලේ සියලු දෙනා. හඟුරන්කෙත පදිංචි ඒ.බී. දිසානායක මහත්මයා, කේ.එම්. බත්තන මහත්මිය ඇතුලු පවුලේ සියලු දෙනා. ඉතින් සියලු දෙවි දේවතාවුන් වහන්සේලාට මේ පින් අනුමෝදන් වේවා. සියලු මේ පින් සතුටින් අනුමෝදන් වී ගෞතම බුද්ධ ශාසනයත්, ලක්දෙරණත්, මේ සියලු දෙනාත් ආරක්ෂා කරත්වා කියලා දෙවියන්ට පින් පමුණුවනවා. ඒ වගේම මේ රැස්වුනු සියලූම පුණ්‍යධර්මයන් මියපරලොව ගිය ඥාතීන්ට අනුමෝදන් වී ඥාතීන් පරලොව සැපයට පත්වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පින් පමුණුවනවා පරම පූජනීය ගුරු දේවෝත්තම අපගේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා තමයි අපිට මේ බුද්ධ ශාසනය ගැන මේ විදියට යම් තේරුමකට එන්නට වාසනාව ලැබුනෙ. තිසරණ සරණ යන්න කියන යසෝ ඝෝසාව ඒ උතුම් දහම් හඬ අපිට ලොකු ස්වාමීන් වහන්සේ නිසා ඇසුනෙ. ඒ නිසා අපි මේ විදියට ධර්මය ඉගෙන ගන්නෙ උන්වහන්සේගේ ආශිර්වාදය නිසා, මඟ පෙන්වීම නිසා. ඉතින් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා. දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර මහා සංඝරත්නයට උතුම් නිවන පිණිස මේ පින් හේතුවාසනා වේවා. ඒ වාගේම මේ පින්වතුන් දායකත්වය දැරූ පින්වතුන්ගේ සුජීවත්ව සිටින දෙමව්පියන්ට නිදුක්, නිරෝගී සුවපත් භාවය, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ඒ වාගේම කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරව සිටින ලක්වැසි, ලෝවැසි සියලු දෙනා ඉක්මණින් නිදුක් නිරෝගී සුවයට පත්වේවා. ඒ වගේම කොට්ටාවේ පදිංචි පින්වත් ගුණසිරි රාජපක්ෂ මහත්මයා, පියවතී කත්‍රිආරච්චි මහත්මිය ඇතුලූ පව්ලේ සියලු දෙනාට, හඟුරන්කෙත පදිංචි ඒ.බී.දිසානායක මහත්මයා, කේ.එම්. බක්කන මහත්මිය

ඇතුළු පවුලේ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වෙත්වා. සියලු දෙනාටත්, ඒ වගේම මේ පවුල්වල සියලු දෙනාටත්, ඒ වගේම ඔබ සියලු දෙනාටත්, හැදූ වැඩූ දෙමව්පියන්ටත් සියලු දෙනාට උතුම් සම්බුදු සරණින් සැනසී සසර දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=5D0pOe7bwWw&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=61

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම වේවා. සාදූ සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහනේ අපි සරණ ගිය ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුණකඳත්, ඒ අනන්ත ගුණයෙන් වැඩ සිටි බුදුරජාණන් වහන්සේ වදාළ ශ්‍රී සද්ධර්මයත් ඔබ මේ කාලයේ ශ්‍රවණය කරන්නෙ. ඉතින් අද දවසේ මේ දහම් වැඩසටහන සඳහා ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් නානායක්කාර මහත්මයා සහ රත්නසූරිය මහත්මිය විසින් දායකත්වය දරනවා. මැයි මස 09 වෙනි දිනට උපන්දිනය යෙදුනු සිඟිති දියණියටත් ජූනි මස 17 වෙනි දින 6 වෙනි ජන්ම දිනය යෙදෙන දියණියටත් වයස අවුරුදු 3ක් වන පුංචි පුතාටත් ආශිර්වාද කරන්න මේක අවස්ථාවක් කරගන්නවා මේ උතුම් ධර්ම දේශනාවෙන් රැස් වෙන පින.

ඉතින් බොහෝ පින් රැස් වෙනවා ධර්ම දානයෙන්. ඒ රැස් වෙන සියලු පින් බලයෙන් ඔබගේ පවුලේ සියලු දෙනාත් මේ දරුවන් සියලු දෙනාත් සුවපත් වේවා කියන ආශිර්වාදය මේ දේශනාව පුරාවටම ඔබට සැලසෙනවා. ඉතින් පින්වත්නි බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ අනන්ත ගුණ කඳ අපිට එහෙම වචනයෙන් මේ වාගේ වැඩසටහන් වලින් එහෙම කියලා ඉවර කරන්න පුලුවන් දෙයක් නෙවෙයි. තම තම නැණ පමණින් තමයි බුදුරජාණන් වහන්සේගේ ගුණකඳ මනසිකාර කරන්න සිහි කරන්න තියෙන්නෙ. එතකොට අපිත් පුරාණ ආචාර්යවරුන්ගේ ක්‍රමයට ඒ වාගේ අපේ ගුරුවරුන්ගෙන් අපිට ලැබිච්ච ඒ මඟපෙන්වීම සහ ඉගැන්වීම, ඒ වගේම අපිට තිසරණ සරණ යන්න අපිට සළස්වලා දුන්නු අවස්ථාව, ඒවා මුල් කරගෙන තමයි අපි බුදුරජාණන් වහන්සේ කියන්නෙ මේ වගේ කෙනෙක් කියලා අපි හිතින් යම් විදියකට හරි තේරුම් ගත්තෙ. මේ බුද්ධ ශාසනයේ වැඩිපුරම බුදුගුණ කියලා තියෙන්නෙ සාරිපුත්ත මහරහතන් වහන්සේ. ප්‍රඥාවෙන් අග්‍රම උත්තමයා තමයි වැඩිපුරම බුදුගුණ හිතලා තියෙන්නෙ. ඒත් උන්වහන්සේ කියනවා නගරයකින් දොරටුවෙන් එළියට එන යන අය පේනවා වගේ බුදුරජාණන් වහන්සේගේ බුදු මුවින් එළියට නිකුත් වූ වචන වලින්ම බුදුරජාණන් වහන්සේ ගැන තේරුම් ගත්තා මිසක්කා අර නගරයේ අභ්‍යන්තරය ගැන ලොකු තේරුමක් දොරටුපාලකයාට නෑ කියනවා. ඒ වගේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ගැන බුදුරජාණන් වහන්සේගේ බුදුමුවින් පිටවුනු ධර්ම දේශනා ඇසුරින් සාරිපුත්ත මහරහතන් වහන්සේ හිතුවා මිසක්කා බුදු කෙනෙකුගෙන් ගැන හිතාගන්න සාරිපුත්ත මහරහතන් වහන්සේට පවා නොහැකියි කියලා උන්වහන්සේ වදාළා. එච්චර බුදුගුණ කඳක්. අපේ බුදුරජාණන් වහන්සේගේ තියෙන මහානුභාව සම්පන්න ගුණ කඳක් තමයි බුදුරජාණන් වහන්සේ ආවාට ගියාට දහම් දෙසන කෙනෙක් නෙවෙයි. ආවාට ගියාට ප්‍රකාශ කරන කෙනෙකුත් නෙවෙයි. ආවාට ගියාට වචන කතා කරන කෙනෙකුත් නෙවෙයි. බුදුරජාණන් වහන්සේ ධර්ම දේශනා කරන්නෙ දසබල ඥාණ තුළ පිහිටලා. විශාරද ඥාණ තුළ පිහිටලා. ෂඩ්අසාධාරණ ඥාණ තුළ පිහිටලා. නව අරහාදී සම්බුදුගුණ තුළ පිහිටලා. අනන්ත සම්බුදු ඥාණ තුළ පිහිටලා. එක අකුරක්, එක ඉස්පිල්ලක්, එක පාපිල්ලක් බුදු කෙනෙක්ගෙන් නම් හේතුවක් නැතිව නිකුත් වෙන්නෑ බුදු මුවෙන්. දැන් බලන්න බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරපු ක්‍රම, බුදුරජාණන් වහන්සේගේ තියෙනවානෙ කෙටියෙන් ධර්ම දේශනා කිරීම තියෙනවා. විස්තර විභාග වශයෙන් ධර්ම දේශනා කිරීම තියෙනවා. එතකොට

ඒ ධර්මය දේශනා කරන්නෙ යම් අර්ථයක් දැනගෙනමයි. අර්ථයක් නැතිව නම් නෙවෙයි. බුදුරජාණන් වහන්සේ දන්නවා කොයි පිරිසටද විස්තර කරන්න ඕන. කොයි පිරිසටද කෙටියෙන් කියන්න ඕන. කොයි පිරිසටද පින ගැන කියන්න ඕන, කොයි පිරිසටද නිවන ගැන කියන්න ඕන, බුදුරජාණන් වහන්සේට ඒ වැටහීම තියෙනවා. දවසක් අහනවා ගාමිණී කියලා කෙනෙක් ඇවිල්ලා, ස්වාමීනී මම දැකලා තියෙනවා භාග්‍යවතුන් වහන්සේ නිතර නිතර භික්ෂු භිකෂුණීන්ට අවවාද කරනවා, දහම් අනුශාසනා කරනවා. නමුත් නිතර නිතර ඒ විදියට මේ ගිහි මිනිස්සුන්ට නිතර නිතර කියන්නෙ නෑ. දැන් අද කාලෙ හැබැයි ටිකක් වෙනස්. අද කාලෙ නිතර නිතර බණ කියන්නෙ ගිහි අයට. හාමුදුරුවරුන්ට බණ කියනවා අඩුයි. හේතුව හාමුදුරුවරු බණ අහන්න කැමැති නෑ. ඒකයි ඒකට හේතුව. දැන් අපි ගත්තොත් එහෙම අපේ ලොකු ස්වාමීන් වහන්සේ ගත්තොත්, අපේ ලොකු ස්වාමීන් වහන්සේ වැඩිපුර දහම් අනුශාසනා කරන්නෙ අවවාද කරන්නෙ ස්වාමීන් වහන්සේලාට. දැන් ඔය මෑත භාගෙ ලොකු ස්වාමීන් වහන්සේ ධර්ම දේශනා කරන වැඩසටහන් අඩුයි. වැඩසටහන් අඩු වුනාට භික්ෂූන් වහන්සේලාට වෙනදට වැඩිය අනුශාසනා කරනවා. ලොකු ස්වාමීන් වහන්සේගේ දහම් වැඩපිළිවෙල ඒ විදියට සිද්ධ වෙනවා. එතකොට අද කාලෙ ඒ කාලෙ වෙනස. නමුත් අහනවා, ස්වාමීනී ඒකට හේතුව මොකක්ද, ප්‍රත්‍යය මොකක්ද. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ගාමිණී මං නුඹෙන්ම අහන්නම්. ගාමිණී හොඳට සරුසාර කුඹුරක් තියෙනවා. හොඳට වතුර එන, හොඳට මඩ තියෙන, හොඳට ගොයම් හැදෙන කුඹුරක්. ගාමිණී තව කුඹුරක් තියෙනවා ටිකක් නිස්සාරයි, නමුත් ඒකෙත් හැදෙනවා. ඊළඟට ගාමිණී තව කුඹුරක් තියෙනවා කිසිම සරුවක් නෑ, ගල් වැඩි, බොරළු වැඩි, ඒකෙ ගොවිතැනක් කලාට පැලයක්වත් එන් නෑ. ඉතින් ඔය නිකං වැලි ගොඩක් වගේ පිරිලා තියෙනවා, ඕකෙ එකක් දෙකක් මොනවහරි වගාවක් කලොත් හටගන්න පුලුවන්, ඵලදාව නෑ. ඉතින් ගාමිණී නුඹ ගොවිතැන් කරනවා නම් ඉස්සෙල්ලාම ගොවිතැන් කරන්නෙ කොහෙද, මොකේද කියලා ඇහුවා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ඉස්සෙල්ලාම ගොවිතැනක්, අර්ථයක් කැමැති කෙනා, ඵලයක් කැමැති කෙනා ඉස්සෙල්ලාම ගොවිතැන් කරන්නෙ සරුසාර කුඹුරෙ. සරුසාර කුඹුරෙ ඉස්සෙල්ලාම ගොවිතැන් කරන්නෙ. ඊටපස්සේ වෙලාව කලාව තිබුනොත් එහෙම ඊළඟ එකේ ගොවිතැන් කරනවා වී වපුරනවා, අර ටිකක් සරුසාර කුඹුරෙ. ඊළඟට තවත් වෙලාව කලාව තියෙනවා නම් අර පුරන් එකේ සරුසාර නැති කුඹුරෙත්

වී වපුරනවා, වපුරන්නෙ ආයෙ එළදාවක් ගන්න නෙවෙයි. මේකෙ මොකක් හරි ගහක් හැදුනොත් එහෙම හරකෙකුට හරි උලාකන්න පුලුවන් නෙව කියලා ඒකෙත් ඔය වපුරලා දානවා කිව්වා. ආන්න ඒ වගේ පින්වත් ගාමිණී, දැන් ඔබ කිව්වනෙ ඔය විදියට. ආන්න ඒ වගේ තමයි මේ භික්ෂු භික්ෂුණීන් කියන පිරිස අර සරුසාර කුඹුර වගේ. බුදුරජාණන් වහන්සේ උදෙසාම, බුදුරජාණන් වහන්සේ වෙනුවෙන්ම කැපවෙලා නිවනම ඉලක්ක කරන්න ප්‍රතිපදාවේ යෙදෙන පිරිස. මං ඒ පිරිසට සරුසාර කුඹුරක්, ගොවියෙක් පළමුව වපුරනවා වගේ මං ඒ පිරිසට නිතර නිතර දහම් අවවාද කරනවා. ගාමිණී මාව සරණ ගිය, බුදුරජාණන් වහන්සේ සරණ ගිය, ධර්මය සරණ ගියා, සංඝයා සරණ ගිය ගිහි උපාසක පිරිස ඉන්නවා. තෙරුවන් සරණ ගිය උපාසක උපාසිකාවො, මම ඊළඟට වැඩිපුර දහම් දේශනා කරන්නෙ උපාසක උපාසිකාවන්ට. ඉතින් පින්වත් ගාමිණී ඔය ඉන්න වෙනත් අන්‍යාගමික තීර්ථකයන්ටත් මම දහම් කරුණු කියන අවස්ථා තියෙනවා. මම හැබැයි ඒ අයට දහම් දේශනා කරද්දි භික්ෂූන්ට තරම් විස්තර කරලා, උපාසක උපාසිකාවන්ට තරම් විස්තර කරලා ඒ විදියට ධර්මය දේශනා කරන්නෑ. නමුත් මම ඔවුන්ටත් ධර්මය දේශනා කරන අවස්ථා තියෙනවා. හැබැයි මම ඔවුන්ට ධර්මය දේශනා කරන්නෙ මේ කියන බණ පදයකින් එක වචනයක් හරි මේ අය තේරුම් ගත්තොත් වටහා ගත්තොත් මොවුන්ට ඒක බොහෝ කාලයක් හිතසුව පිණිස උපකාරී වේවී කියන අදහසින්. එතකොට බලන්න බුද්ධ ශාසනයේ එක වචනයක් හරි තේරුම් ගත්තොත් එක වචනයකට හරි පැහැදීමක් ඇතිවුනොත් ඒක කොච්චර උපකාරයි ද. ඉතින් ඒ වගේ තමයි බුදුරජාණන් වහන්සේ දහම් දේශනා කරන්නෙ ඒ පිරිසේ ස්වභාවය තේරුම් අරගෙන. එතකොට පුද්ගලයන්ගේ ස්වභාවය තේරුම් අරන් ඒ විදියට දහම් දේශනා කරන වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් බුදුරජාණන් වහන්සේ හැර නම් නෑ. ඉතින් මං කල්පනා කලේ ඒකත් එක්කම අද තවත් කාරණාවක් කියන්න. අපේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය දේශනා කරන ක්‍රම සහ ධර්මය දේශනා කරන විදිය ජීවිතේ අන් අයට අවබෝධ කරන්න මග පෙන්වන විදිය තේරුම් ගන්න අංගුත්තර නිකායේ තික නිපාතයේ තියෙන සූත්‍රයක් පළවෙනි සූත්‍රය, පුබ්බෙව මෙ භික්ඛවෙ සම්බොධා අනභිසම්බුද්ධස්ස බොධිසත්තස්සෙව සතු එතදහොසිං, පින්වත් මහණෙනි මම සම්බුද්ධත්වයට පත්නොවී බෝධිසත්වවරයෙක්ම ඉද්දින්ම මෙහෙම හිතුනා. කොමුකො ලෝකෙ ලෝකො අස්සාදො ආදීනවො කිං නිස්සරණන්ති. මේ ලෝකයේ ආශ්වාදය මොකක්ද, ආදීනවය මොකක්ද, නිස්සරණය මොකක්ද කියලා මම

කල්පනා කලා කියනවා සම්බුද්ධත්වයට පත්වෙන්න කලින්ම. දැන් නිකන් හිතන්න සාමාන්‍ය මනුස්සයෙක් ආශ්වාදය, ආදීනවය, නිස්සරණය කියලා එකක් කල්පනා කරයි ද කියලා. මේ බුද්ධ ශාසනයෙන් පරිබාහිරව වෙනත් ශාසනයක්, වෙනත් ආගමක, ලෝකයේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය කියලා එකක් කතා කරයිද කියලා බලන්න. තස්ස මය්හං භික්ඛවෙ එතදහොසි, මට මෙහෙම හිතුනා පින්වත් මහණෙනි. යං කො ලෝකෙ පටිච්ච උප්පජ්ජති සුත්තං සොමනස්සං අයං ලොකෙ අස්සාරො, මේ ලෝකයේ යම් යම් කරුණු මුල් කරගෙන සැපයක් සොම්නසක් හටගන්නවා නම් ඒක තමයි ලෝකයේ තියෙන ආශ්වාදය. යං ලෝකෙ අනිච්චො දුක්ඛො විපරිණාම ධම්මො අයං ලොකෙ ආදීනවො, අනිත්‍යයිද මේ ලෝකය, දුක් සහිතයි ද, වෙනස් ස්වභාවයකට පත්වෙනවාද, මේක තමයි ලෝකයේ ආදීනවය. යං ලෝකෙ ඡන්දරාග විනයො ඡන්දරාග පහාණං ඉදං ලොකෙ නිස්සරණං ති, ලෝකය ගැන තියෙන ඡන්දරාගය දුරු වෙනවාද, ප්‍රහාණය වෙනවාද මේක තමයි ලෝකයේ නිස්සරණය. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කලා යාව කෙවං ච අහං භික්ඛවෙ එවං ලොකස්ස අස්සාදාසිච්ච ආසාදතො ආදීනවං ච ආදීනවතො නිස්සරණං ච නිස්සරණතො යථා භූතං නාබ්බඤ්ඤාසිං, මං මේ ලෝකෙ ආශ්වාදය ආශ්වාදය විදියට, ආදීනවය ආදීනවය විදියට, නිස්සරණය නිස්සරණය විදියට යම්තාක් අවබෝධ නොකලාද ඒ තාක් දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකෙ සම්මා සම්බුද්ධයි කියලා මං කිව්වෙ නැහැ. දැන් අපිට තියෙනවානෙ අමාරුවක් මේ ලෝකෙ මිනිස්සුන්ට ලෝකෙ අයට, මොකාක් හරි දැනගත්තොත් ඒ තත්පරේට අනික් අයට ඒක එළියට දාන්න අසනීපයක් තියෙනවානෙ. බුදුවරුන්ට නෑ ඒ අසනීපය. ඒක ඒ තාක් අවබෝධ වෙනතාක් කල් ලෝකෙට ප්‍රකාශ කරන් නෑ. යම් දවසක ලෝකයේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය ඒ විදියටම අවබෝධ වුනා ද එදාට තමයි සම්මා සම්බුද්ධයි කියලා ලෝකෙ ප්‍රතිඥා දුන්නෙ. ලෝකෙ ආශ්වාදයටනෙ මේ සියලු දෙනා අහුවෙලා තියෙන්නෙ. ඇහෙන් රූප බලනවා, සුකක් සොම්නසයක්. සැප සොම්නස හටගන්නවා. කණෙන් ශබ්ද අහනවා, සැප සොම්නස හටගන්නවා. නාසයෙන් ගඳ සුවඳ බලනවා සැප සොම්නස හටගන්නවා. දිවෙන් රසය විඳිනවා සැප සොම්නස හටගන්නවා. කයෙන් පහස විඳිනවා සැප සොම්නස හටගන්නවා. සිතින් මනෝලෝකයක ඉන්නවා සැප සොම්නස හටගන්නවා. ආශ්වාදය. මේක තමයි ලෝකෙ ආශ්වාදය. ලෝකෙ ආශ්වාදය කියලා දෙයක් නැත්නම් මේ ලෝක සත්ත්වයා ලෝකෙට ඇලෙන් නෑ. ඇයි මේ පෙරේත වෙලා ඉන්නෙ, මේ

ලෝකෙට ඇලෙන්නෙ ඇයි? මේ ලෝකෙට බැඳී බැඳී යන්නෙ ඇයි, ආශ්වාදයක් තියෙනවා. සැපක් සොම්නසක් තියෙනවා. එතකොට අනේ අනේ කිය කියා අනේ ඕන නෑ මේ දුක ඕන නෑ කියලා කඳුලු සල සලා ඉන්නෙ ඇයි, මේ ආදීනවය මොකක්ද, ඒ සැප සොම්නස අනිත්‍යය නිසා. දුක් සහිත නිසා, වෙනස් ස්වභාවයකට පත්වෙන නිසා තමයි ආදීනව, හැඬීම් වැළපීම් දුක් දොම්නස් තියෙන්නෙ. දැන් ලෝකෙ හොඳට කාලා බීලා ඇඳලා යාන වාහන වල ගිහිල්ලා තිබුනා, සැප සොම්නස හටගත්තා. ලෝකෙම ආශ්වාදයි. මෙන් කොරෝනා ආවා. දැන් එක එක්කෙනා මැරෙන්න ගත්තා. තවම ඉවරයක් නෑ මේක. මහා භයානක වසංගතයක්. ගෙයින් එළියට බහින්න බෑ, කටවල් වහගන්න ඕන. දුරින් ඉන්න ඕන. අත් පා සෝදන්න ඕන. මේ රෝගයට මුහුණ දෙන්න ලොකු සටනක් කරන්න වෙනවා. කෝ කලින් සුවසේ නිදහසේ සැරිසරපු ජීවිත වෙනස් වුනා. අන්‍ය ස්වභාවයකට පත්වුනා. මොනවද එහෙනම් මේ ප්‍රකට වෙන්නෙ. ආදීනව. හැබැයි ලෝකෙ ආශ්වාදයත් තියෙනවා. ආදීනවයත් තියෙනවා. නිස්සරණය කෝ. ඡන්දරාගය ප්‍රහාණය කරපු තැන තමයි මේකෙන් නිදහස් වෙන්නෙ. නමුත් ලෝකෙ ඇලීමත් තියෙනවා, ආශ්වාදයත් එක්ක ඇලීමත් තියෙනවා. ආදීනවයත් එක්ක ගැටීමත් තියෙනවා. නිස්සරණය නෑ. මේ නිස්සරණය කියන එක ලොව්තුරා සම්මා සම්බුදු කෙනෙක් පහළ වෙන්න ඕන. ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ කෙනෙක් තමයි මේ දුක් කන්දරාවෙන් නිදහස් වෙන මාවත පෙන්වලා දෙන්නෙ. ඡන්දරාගය ප්‍රහාණය කිරීම ගැන. ඒ නිසා අපිට මේ ලෙඩ එපා, කරදර එපා, හදිහූනියම් එපා, මෙච්චර මේ දුක් කන්දරාවක් එපා, ගින්නෙන් අපිව පිච්චෙන්න එපා, මේ ශෝක තැවුල් වලින් අපිව නැසෙන්න එපා කියලා පැතුවට පින්වත්නි ඒ ප්‍රාර්ථනාවේ ඇති ඵලය කිම? නිස්සරණයක් නැත්නම්. නිස්සරණය කියන්නෙ ඡන්දරාගය ප්‍රහාණය කරන්න ඕන. මේ හිස් චිත්ත සන්තානයේ තියෙන ඡන්දරාගය සර්වප්‍රකාරයෙන් ප්‍රහාණය වෙලා යනවා නම්, ඒ වනාහි ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන් සිද්ධ වෙන එකක්. ඒ නිසා බුදුන් සරණ යන්නම එපායැ. ශාස්තෲන් වහන්සේගේ ගෞතම බුද්ධ ශාසනයේ පිහිටක් ලබන්නම එපායැ. බුදු කෙනෙක් ලෝකයට පහළ වෙනකොට ආශ්වාදය ආශ්වාදය විදියටම තේරුම් ගත්තා. මෙන්න ඇලීම, ඇලෙන්නෙ ආශ්වාදයක් තියන නිසා. මෙන්න ගැටීම, ගැටෙන්නෙ ආදීනවයක් තියෙන නිසා. ඊටපස්සෙ කල්පනා කලා කොහොමද මේකෙන් නිදහස් වෙන්නෙ. ඡන්දරාගය ප්‍රහාණය කරන්නෙ. එතකොට ආශ්වාදය, ආදීනවය, නිස්සරණය. මේ ඔක්කොම ඒ විදියට අවබෝධ කරලා

මේකෙන් නිදහස් වෙන්න පුලුවන්නෙ ආර්ය අෂ්ටාංගික මාර්ගයෙන්. මාර්ගය ප්‍රතිපදාව අවබෝධ කලා. ඒක තේරුම් ගන්න. අපි අද කාලෙ බනිනවා මේ කොල්ලො කුරුට්ටන්ට, මේ තරුණ පහේ කොල්ලො කෙල්ලන්ට අපි බනිනවා තොපි ෆෝන්වලමයි විනාශ වෙනවා කියලා. ඇයි මුන් ඔය ෆෝන් එකේම ඉන්නෙ. ඇයි මේ ෆේස්බුක් එකේම ඉන්නෙ. ඇයි මේ අන්තර් අවකාශයේම සැරිසරන්නෙ. ආශ්වාදයක් තියෙන නිසා. එතකොට ඔය ආශ්වාදය තියෙන තාක් කල් අතාරින්නෙ නම් නෑ. සැප සොම්නස හටගන්නවා ඇතුලෙ. එතකොට හරි, ආශ්වාදයක් තියෙනවා. සැපක් සොම්නසක් හටගන්නවා. ෆෝන් එක තුළින්. ඊළඟට කම්පියුටරය තුළින්. යහළු යෙහෙළියො එක්ක ඉද්දින්. මත්ද්‍රව්‍ය පාවිච්චි කරද්දි, සල්ලාල ජීවිතෙන්, සැප සොම්නස උපදිනවා. අත්හරින්න බෑ. ආශ්වාදයම සිහි කර කර ඉද්දින්. එතකොට තේරුම්ගන්න ඕන හරි මෙහෙම එකක් තියෙනවා. ඊළඟට ආදීනවයක් තියෙනවා. මොකක්ද ආදීනවය. හැමදාම මෙහෙම ඉන්න බෑ, වයසට යනවා. කොරෝනා හැදෙනවා, ලෙඩ හැදෙනවා, ඊළඟට වයසට ගිහිල්ලා පුටුවේ ඉඳගෙන පරණ ඒවා ඔක්කොම කල්පනා කර කර ඉන්න වෙනවා, තරුණ ජීවිතේ විනාශ කරගත්තොත්, නාකි වෙලා දත් ටික හැලිලා, කට ලොඹු ගැහිලා ඉන්නකොට ඔක්කොම මතක් වෙනවා චිත්‍රපටිය වාගේ. කාට කියන්නද දරුවන්ට කියන්නද, මුණුබුරන්ට කියන්නද, මම මේවා තරුණ කාලෙ කලේ කියලා. විඳවන්න වෙනවා, පණ පිටින් පණුවො ගහයි. එදාට තමන්ටම හිතෙයි මං කරපු ඒවා කියලා. දැන් ඔන්න ළඟදින් අර කොහෙද පළාතක අවුරුදු පහළොවක, කොල්ලට දාසයයි, කෙල්ලට පහළොවයි. කොහෙහරි කාමරයක යන්න ඇති, ඔන්න ආශ්වාදයක්. ඔන්න ගෙදර අයට ආරංචි වුනා. ඊටපස්සෙ කට්ටිය ගිහිල්ලා මුන් ඉන්න තැන කොහෙද කියලා හෙව්වා. වට කලා. කොල්ලයි කෙල්ලයි දෙන්නා පැන්නා. ගිහිල්ලා නගරයකට ගිහිල්ලා අත්දෙක අල්ලගෙන දෙන්නම පාලමෙන් පැන්නා. එතකොට කාමරේ ගතකරනකොට සැප සොම්නස හටගත්තා. ආශ්වාදය. නොසිතූ දෙයක් සිද්ධ වුනා. දෙමව්පියො දැනගත්තා. සමාජයට මූණදෙන්න බෑ. දැන් ඔන්න බලන්න අර ආශ්වාදය වෙනස් වෙච්චි හැටි. ඊටපස්සෙ මොකද කලේ, පාලමෙන් පැන්නා දෙන්නම අත්දෙක අල්ලගෙන. මේ පොඩිඋන්. මොනවා තේරිලාද. ජීවිතේ ගැන මොකක් වැටහිලාද. මනුස්ස ජීවිතේ ගැන මොනවා තේරිලා ද. කණ කැස්බෑවා වියසිදුරෙන් අහස බලනවා වගේ දුර්ලභ මනුස්ස ජීවිතයක් ලබලා, නිකං කාමරයකට ගිහිල්ලා හිටපු සිද්ධියකින් මනුස්ස ජීවිතේ නැතිකරගත්තානෙ.

කොහොමද ආදීනව. දැන් කොහොමද අම්මලාගේ ඇස් වලින් වැටෙන කඳුළු. ඥාතීන්ගේ ඇස් වලින් වැටෙන කඳුළු. කොහොමද සමාජයට මුහුණ දෙන හැටි, නින්දා අපහාස. ගිනි ගොඩක් සමාජයට යොමු කරලා වතුරට වැටිලා මැරිලා. දැන් මැරුණට පස්සෙ කොහෙ යයිද. පඤ්චසීලයක් නෑ, බඹසරක් නෑ. කොහෙ යයිද. ආදීනව. ආදීනව. බුදුරජාණන් වහන්සේ මේ ලෝකය අවබෝධ කලා. නිස්සරණය, දැන් මේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය. කෝ නිස්සරණය. කෝ ඡන්දරාග ප්‍රහාණය වීම. බුදු කෙනෙක්ගේ සමීපයට ආපු සරණ පිහිටවගත්ත ආර්ය අෂ්ටාංගික මාර්ගයේ ගමන් කරන කෙනාට විතරයි නිස්සරණය තියෙන්නෙ. අපේ ජීවිත වුනත් බැඳෙනවා. අපේ ජීවිත වුනත් ආශ්වාදයට කැරකිලා යනවා. හේතුව මේ රූප, වේදනා, සංඥා, සංකාර, විඤ්ඤාණ කියන පඤ්චුපාදානස්කන්ධයේ ආශ්වාදයක් තියෙනවා. ඒ නිසා මේකට හිත මුලා වෙනවා. ඊටපස්සෙ දැන් මේවගෙන් ගැලවෙන්න නම් ආදීනව හොඳට කල්පනා කරන්න ඕනනෙ. ආදීනව හොඳට කල්පනා කරනකොට කරනකොට තමයි ආශ්වාදයෙන් ඇලෙන එක නැතිවෙන්නෙ. කවදාවත් ආශ්වාදය විඳ විඳ ආශ්වාදයේ බැසගෙන නම් නිස්සරණයකට නම් යන්න බෑ. ආදීනව යොනිසොමනසිකාරය කළ යුතුමයි මේකෙන් මොකක්ද ඊළඟට සිද්ධ වෙන්නෙ කියලා. එතකොට අපි ගත්තොත් එහෙම ස්කෝලෙ යන ළමයි, ටියුෂන් යන ළමයි, විශ්වවිද්‍යාල වල යන ළමයි ඒ ළමයින්ගේ ජීවිත වල තියෙන, තරුණ ජීවිත වල තියෙන අර ආශ්වාදය එක්ක එකතු වෙච්ච ගමන් ඒ ළමයින්ට ආදීනව ප්‍රකට වෙන් නෑ, උන්ට හිතෙන් නෑ මං මෙතනින් ගියාට පස්සෙ කොහොමද, මං මේ කාලෙ ජීවිතේ නරක් කරගත්තොත් කොහොමද. දැන් අපි විශ්වවිද්‍යාලෙන් ගත්තොත් එතනින් එළියට එන අය තමයි සමාජයේ නියමුවන් බවට පත්වෙන්නෙ. එතකොට තමන්ම ජීවිතේ චරිතය විනාශ කරගත්ත ගමන්, ඒ අය නම් සමාජයේ නියමුවො බවට පත්වෙන්නෙ මේ සමාජයට යන කලදසාව මොකක්ද. ඒකයි. විශ්වවිද්‍යාලෙකට යන තෙරුන් වහන්සේලා වුනත් එහෙමයි. භික්ෂූන් වහන්සේලා වුනත්. ඊටපස්සෙ ඒ හාමුදුරුවරු හොඳට ඉගෙන ගත්තම ඒ හාමුදුරුවරු රාජකීය පණ්ඩිත, ශාස්ත්‍රපති පණ්ඩිත ඔය ආදී වශයෙන් නොයෙක් සමාජයේ ඉහළ තැන්වලට යනවා හාමුදුරුවරු. ඊටපස්සෙ ඒ හාමුදුරුවරුන්ගේ ගෝල පිරිස හැදෙනවා. එතකොට ඒ හාමුදුරුවරුන්ගෙන් හැදෙන ගෝල පිරිසටත් නායක හාමුදුරුවන්ගේ ආභාෂයනෙ යන්නෙ. ඒක හොඳට කල්පනා කරන්න වෙනවා. එතකොට තමයි ආශ්වාදයට හිත ඇදි ඇදී යන එක නතර කරගන්න පුලුවන්. ඊටපස්සෙ දැන් අපි පහුගිය කාලෙ ලිපි

ඇවිල්ලා තිබුනා පොල්ගහවෙලට. සමහර ළමයි ලියලා එවලා තියෙනවා, පොඩි, චූටි කොල්ලො කෙල්ලො, පොඩි ළමයි. අනේ ස්වාමීනී අපේ තාත්තා ගුරුවරයෙක්, ස්කෝලෙ ගිහිල්ලා ඇවිල්ලා කාමරේට ගියාට පස්සෙ දොරවහගන්නවා. ආයෙ පැය හතරකින් විතර එන්නෙ. අපි හිතන්නෙ පේපර් බලනවා, එහෙම නැත්නම් මොකක් හරි පේපර් හදනවා ඇති කියලා මම දවසක් ජනේලෙන් හොරෙන් බලනකොට තාත්තා ෆෝන් එකෙන් වීඩියෝ බල බලා ඉන්නවා. අපේ තාත්තා මේ ෆෝන් එකට ඇබ්බැහි වීමෙන් ගලවගන්නෙ කෙසේද කියලා ලියුමක් එවලා තියෙනවා. ඒ ගුරුවරයෙක්නෙ. ඔහුට ආශ්වාදය ආවා, ඔහු ඇලුනා. ආශ්වාදය සුඛ සොම්නස හටගත්තානෙ. ආදීනව හිතන් නෑ. මම ගුරුවරයෙක්. මේක අනිත් අයට ආරංචි වුනොත් මොකක් වෙයිද, ළමයින්ට ආරංචි වුනොත් මොකක් වෙයිද. මං තවත් කෙනෙකුට අවවාද කරන්නෙ කොහොමද. මට පාරෙ බැහැලා යන්න පුලුවන් වෙයිද, හිතන් නෑ. මට ළමයි ඉන්නවා. මට නෝනා කෙනෙක් ඉන්නවා. පොඩි අය මාව බලලා හැදෙන්නෙ. මම පොඩි ළමයි එක්ක ආදරෙන් සුරතලෙන් ඉන්න ඕන අප්පච්චි කෙනෙක්. ඒ මොකවත් හිතන් නෑ. තමන්ගේ වගකීම හිතන් නෑ. ඉතින් මොකද වෙන්නෙ. ඊටපස්සෙ ආශ්වාදය තුළින්ම අකුසල් රැස් වෙවී යනවා. නිස්සරණයක් නෑ. මං නම් කියන්නෙ මේ බණ ටිකක්වත් අහන්න. මේ ධර්ම දේශනාවක් වත් අහන්න. ඒ මොහොතට හරි හිතට එයි මෙහෙම එකක් ලෝකෙ තියෙයි කියලා. කිසිම අවබෝධයක් නැතිව අවුරුදු සීයක් ජීවිතේ ගත කරනවාට වඩා, කිසිම වැටහීමක් නැතිව අවුරුදු සීයක් ජීවිතේ ගත කරනවාට වඩා මේ බණක් අහනකොට මොහොතක් බණ පදයක් තේරෙන එක වටිනවා පින්වත්නි. මොහොතක බණ පදයක් තේරෙන එක වටිනවා. ඉතින් ඒ නිසා ආශ්වාදය ආදීනවය නිස්සරණය කියන එක බුදුරජාණන් වහන්සේ අවබෝධ කරගෙනමයි ලෝකෙට සම්මා සම්බුද්ධයි කියලා වදාළේ. ඥාණං ච පනමිං දස්සනං උදපාදි. බුදුරජාණන් වහන්සේ වදාළා, මේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය කියන එක ඒ ආකාරයෙන්ම අවබෝධ වුනාද, ආශ්වාදය කියන එක ලෝකෙ යම්තාක් දැන් බුද්ධ දේශනාවෙ තියෙනවා රූපයේ යම්තාක් ආශ්වාදය, වේදනාවේ ආශ්වාදය, සංඥාවේ, සංස්කාර, විඤ්ඤාණ, ඇහේ ආශ්වාදය, කණේ ආශ්වාදය, නාසයේ, කයේ, දිවේ, මනසේ ඊළඟට මේ සියලු ලෝක ධාතුවේ සියලු ආශ්වාදයන් ආශ්වාදය විදියටම ප්‍රඥාවෙන් දැක්කා. අවබෝධ කලා. ආදීනවය ප්‍රකට වුනා. අවබෝධ කලා. නිස්සරණය, ඡන්දරාගය බුදුරජාණන් වහන්සේගෙන් ප්‍රහාණය වුනා. අන්න එදාට තමයි සම්මා සම්බුදුයි

කියලා වදාළේ. අක්බො පාමි චෙතො විමුත්ති අයමං ති මා ජාති පුනබ්බවොති, ඒ සියල්ලම ඒ විදියට අවබෝධ වීමත් එක්කයි, මේ ඥාණ දර්ශනය පහළ වුනේ, ආයෙ මං උපතක් කරා යන්නෙ නෑ කියලා. එතකොට බුදුරජාණන් වහන්සේගේ අවබෝධය බලන්න. එතකොට බුදුරජාණන් වහන්සේ ලෝකෙට ධර්මය දේශනා කිරීම බලන්න. බුදුරජාණන් වහන්සේ කවුරුවත් සැප විඳිනවාට අකමැත්තක්වත්, ඊළඟට දුක් විඳින එක ගැන තරහක්වත් එහෙම තිබිලා නෙවෙයි, බුදුරජාණන් වහන්සේට මේ ඉන්න ඔක්කොම නිවන් දක්වන්නට එහෙම බුදුරජාණන් වහන්සේට උවමනාවක් නෑ. බුදුරජාණන් වහන්සේට තියෙන්නෙ සත්‍යය දේශනා කිරීම. මෙන්න ආශ්වාදය, මෙන්න ආදීනවය, මෙන්න නිස්සරණය. බුදුරජාණන් වහන්සේ කවුරුවත් සතුටින් ඉන්නවට අකමැති නෑ. බුදුරජාණන් වහන්සේට අවශ්‍ය මේ ලෝක සත්ත්වයාට යථාර්තය අවබෝධ කරවීම. හැබැයි මතක තියාගන්න යථාර්තය අවබෝධ වීම තුළින් තමයි ඒකාන්ත සැප සොම්නස හටගන්නෙ. අනෙක් සියලුම සැප සොම්නස, එකම විදියට සතුට, විනාඩි පහක් තියාගන්න බෑනෙ, වෙනස් වෙනවානෙ. බලන්න සතියකින් දවසම සතුටින් හිටපු දවසක් හිතාගන්න අමාරුයි. දවස් දෙකක්, තුනක්, සතියක්, සැනසිල්ලෙන් හිටපු දවසක්. මේ සතියක් සිහිකරන්න බලන්න ජීවිතේ ආපස්සට. මොකාක්හරි දේකින් හිතේ සතුට නැතිවෙලා යනවා. හේතුව අනිත්‍ය නිසා. දුක් සහිත නිසා, අන්‍ය ස්වභාවයකට පත්වෙන නිසා. ලෝකයේ ස්වභාවය. ගොඩාක් මිනිස්සු අද කාලෙ කාම සැපයටමයි ආසා. කාම සැපයමයි හිත වෙළාගන්නෙ. කාම සැපයමයි හිත පිහිටන්නෙ. නමුත් බුදුරජාණන් වහන්සේ ආශ්වාදය දුටුවා. බුදුරජාණන් වහන්සේ දැක්කා මේ කාමයෙන් විඳින සැපය සිහිනයක් වගේ. එතකොට බුදුරජාණන් වහන්සේ දැක්කා සිහිනෙකින් එක්වෙලා සොම්නසින් සිටිද්දි බොඳ වෙලා යයි එලෙස අවදි වී බලද්දි. දැන් අවදිවෙනකොට මොකවත් නෑ. නමුත් සිහිනෙ තිබ්බා. ඒ වගේ දැන් මේ ධර්මය අහනවා වයසක උදවිය. වැඩිහිටි අය, ළමයි. බලන්න ඔබ විඳපු කම්සැප. දැන් කෝ ඒවා. සිහිනයක් වගේ. මස් කපන, දැන් බලන්න කාමයේ ආදීනව මේ. මොකක්ද කාමයේ තියෙන ආශ්වාදය. කම්සැප විඳිනකොට සැප සොම්නස හටගන්නවා. ඒ නිසානෙ ඇදි ඇදී යන්නෙ. ආදීනවය තමයි සිහිනයක් වගේ ඒක. මොකවත් නෑ අවසානෙ. දුක් ගොඩක් විතරයි. දැවිල්ල තැවිල්ල පසුතැවිල්ල. තරුණ ළමයි එක එක වැරදි වලට යොමුවෙලා මගෙත් එක්ක ඇවිල්ලා කතා කරලා තියෙනවා ඒ ළමයි විඳවන විඳවිල්ල. අනේ ඒ මොහොතේ හිත සංවර කරගන්න බැරිවුනා. හිත ඒකට වැටුනා. අපි දැන්

පිච්චෙනවා. අපි අතින් පව් කෙරුනා. එතකොට සැප සොම්නස, විනාඩි පහක දහයක සැප සොම්නසක් විඳලා, ජීවිතේම විඳවනවා. එතකොට ඒක කල්පනා කලා නම් එතකොට මට වෙන දේවල්, මට මෙහෙම විඳවන්න වෙයි මට සමාජයට මුහුණ දෙන්න බැරිවෙයි, මෙහෙම වෙයි මෙහෙම වෙයි මේවා අකුසල් මට නිරයේ යන්න සිද්ධ වෙයි. ඒවා කල්පනා කලා නම් මිස් වෙන්නෙ විනාඩි පහක දහයක සැපය මිස් වෙනවා. හැබැයි ජීවිත කාලෙකම සතුටක් උරුම වෙනවා. දැන් වෙන්නෙ කොහොමද, විනාඩි පහක දහයක සතුට නැතිකරගන්න කැමැති නෑ. ඒක විඳිනවා. ජීවිත කාලෙම විඳවනවා. ඕකනෙ තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ දැක්කා මේ මිනිස්සු කාමයට ලොල් වෙලා මේ ආශ්වාදය හොයන එක බලුපැටියෙක් මස් කට්ටක් ලෙවකනවා වගේ. කුමක්ද ඒ, ඔන්න මස් කට්ටක් දානවා. හොඳට ලියපු සම්පූර්ණයෙන්ම මස් කටුවේ තිබ්බ ඔක්කොම අරන් සුද්ධ කරලා මේ මස් කට්ට දානවා බලුපැටියෙකුට. මේකා ලේ සුවඳට දැන් මේක ලෙවකනවා. ලෙවකාලා ලෙවකාලා අවසානයේ දිවත් පැලිලා තමන්ගෙම දිවේ ලේ රහ එනවා. තව තව ලෙවකනවා, ලෙවකෑම නම් ඉවරවෙන් නෑ. බඩ පිරෙන්නෙත් නෑ. අවසානෙ ඒකෙන්ම මැරිලා යනවා. මස් කට්ටක් ලෙවකනවා වගේ. කොහොමද ඉතින් අවසානෙ බලන්නකො, මෙතෙක් කාලයක් කරපු ඒවයින් මොනවද දැන් අවසානෙට ඉතුරු වුනේ කියලා. විඳිනවා දැන් බලන්න ළමයි ෆෝන් ගත්තොත් බලනවා, බලනවා, බලනවා ඉවරයක් නෑ. අවසානෙ තමන්ට නින්දක් නෑ, ධනය වියදම් වෙලා, කාලය වියදම් වෙලා. අවසානෙ තමන්ට අධ්‍යාපනය පිණිස පවතින දේවල් හරියට කරගන්න බෑ. නින්දක් නෑ, හිතේ සැනසිල්ලක් නෑ. පීඩාව විතරයි අවසානෙට, මස් කට්ටක් ලෙවකෑවා වගේ. මේ ඔක්කොම ආදීනව. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා මේක හුළුඅත්තක් වගේ මේ කම්සැප විඳින එක කියලා. එතකොට හුළුඅත්තක් කියන එක රාත්‍රියේ මෙහෙම අරගෙන යනවා. යනකොට හුළුඅත්ත උඩින් පිච්චි පිච්චි එනවා. අතහැරියෙ නැත්නම් අතත් පිච්චෙනවා. ඒ වගේ කාමයෙන් සතුටක් සොම්නසක් විඳිනවා තමයි, මෙතෙක් කාලයක් ඔය හුළුඅත්තෙන්ම තමයි එලිය බැලුවෙ. හැබැයි අල්ලගෙන හිටියොත් දරුවනේ, මේක අල්ලගෙන හිටියොත් තමන් පිච්චෙනවා. දරුවො මත්තෙම නැහෙන දෙමව්පියො ඉන්නවා. ඒක මුල් කරගෙනම පෙරේතයෙක් වෙලා එනවා. වතුපිටි මත්තේම නැහෙන අය ඉන්නවා. ඒකම මුල් කරගෙන ඒ වත්තෙම බහිරවයෙක් වෙලා උපදිනවා. කාමය මත්තේම ෆෝන් වලම ඉන්නවා, ඒක මුල් කරගෙනම කාම ප්‍රේතයො වෙලා උපදිනවා.

කොහොමද, ඒ හුළුඅත්තෙන්ම නැහිච්චි හැටි. පිච්චෙනවා. අපි හිතින් බැඳීම් ඇතිකරගන්න එක බලන්න. අපි එක එක්කෙනාගෙ හිතට අපි එක එක්කෙනාත් එක්ක බැඳෙනවා හිතෙන්. බැඳුනට පස්සෙ ඒක තමයි අල්ලගත්ත හුළුඅත්ත. දැන් මේක අතහැරියෙ නෑ, මේ බන්ධනය අතහැරියෙ නෑ. මේකෙන්ම පිච්චෙනවා. එතකොට මේ අශ්‍රැතවත්, අන්ධබාල, පෘථග්ජන බව කියන්නෙ විඳවා විඳවා ඉන්නෙම මේක අල්ලගත්ත නිසා. මේක අත්හැරියා නම් මේ දුක නෑනේ කියලා අවබෝධයක් නෑ. කොහොමද මේ අවිද්‍යාවක මහත. යම්තාක් බැඳීම් නිසා, ප්‍රේමය නිසා, සෙනෙහස නිසා, දරු දුක නිස, මව්සෙනෙහස පියසෙනෙහස ඒවා නිසා යම්තාක් හිතින් දුක් විඳිනවාද ඒ ඔක්කොම අල්ලගත්ත නිසා. හුළුඅත්ත අල්ලගත්තෙ. ඉඩකඩම් වලට නඩු කියන ඒවා, ගෙවල් වලට නඩු කියන ඒවා, ඊළඟට ඔප්පු තිරප්පු වලට නඩු කියන ඒවා, වන්දි ඉල්ලන ඒවා, ඔය ඔක්කොම දුක් කන්දරාව කාමය නැමැති හුළුඅත්ත අල්ල ගත්ත නිසා, අත්හැරියෙ නැති නිසා. කවුද අත්හරින්නෙ. කවුද අත්හරින්නෙ මේවා ධර්මයක් අහපු කෙනෙක් මිසක්කා. නිස්සරණයක් හොයාගෙන යන කෙනෙක් මිසක්කා. නැත්නම් පිච්චෙනවා, ඇයි ඒ හුළුඅත්තෙම ආශ්වාදයක් තියෙනවානෙ, ජේනවානෙ එළිය තියෙනවා වටේටම. ආදීනවය අත පිච්චෙනවා. පැහැදිලියිද. නමුත් එළිය වටපිට ජේන එක එයාට ලොකු බරක් නෙවෙයි. අත පිච්චෙන එක සැරයි. ඉතින් කාමයේ තියෙනවානෙ ආශ්වාදයක්. දරුවනේ, පින්වත්නි, ආදීනවය සැරයි. ඔය සතුටට වඩා, ඔය සැපයට වඩා ආදීනවය සැරයි, ඒක දරාගන්න අමාරුයි. ගොඩාක් කල් දුක් විඳින්න වෙනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළානෙ මස් කපන පිහියයි කොටෙයි වගේ කියලා. කපනවා කපනවා අවසානෙට පිහියටත් නෑ කොටේටත් නෑ. දැන් බලන්න ඔබ විඳපු කකම් සැප. රූප, ශබ්ද, ගන්ධ, රස පහසින් තමන් තෘප්තිමත් වෙවී විඳපු සැපය දෙස බලන්න. අවසානෙදි මොකවත් නෑ. අතේ තිබ්බ සල්ලිත් ඉවරයි, අවසානෙ මොකක්ද අර උපමාවට කියනවා වගේ ගහපු බෙරේකුත් නෑ බෙරේ පළුවකුත් නෑ. අවසානෙ නිකං කෙට්ටු වෙලා කැහැටු ගැහිලා වයසට ගිහිල්ලා එහෙම්මම පුටුවකට වැටෙනවා. තරුණ පහේ ඉද්දින් කොල්ලො ටික රංචු වෙලා, ගමේ ගැන්සිය හැදිලා එහෙම ඉන්නවා. වයසට පලච්චි කවුරුවත් නෑ. සීයලගෙ ගැන්සි නෑනෙ. සීයලා බලන්න. සීයලා ඉන්නෙ පුටුවක වාඩිවෙලා ඔහේ බලාගෙන. කොල්ලො කුරුට්ටො පිට්ටනි වලයි, හන්දි වලයි, කඩවල් වලයි උන් රංචු පිටින් ඉන්නවා. ඇයි ආශ්වාදය එතන. ආදීනවය තමයි පුටුවකට වෙලා කලින් වෙච්චි ඒවා කල්පනා කර කර ඉන්නවා. පුදුම

දෙයක් අවසානෙට වෙන්නෙ. බුදුරජාණන් වහන්සේ සරණ යන්න වහ වහා. ශ්‍රී සද්ධර්මය සරණ යන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. පිවිතුරු ශ්‍රී සද්ධර්මය අහන්න. එහෙම වුනොත් නම් ජීවිතේ අවසානෙට යහපතක් තියෙයි. නැත්නම් මේක ආදීනව ප්‍රකට වෙවී එනවා. යම් තැනක ආශ්වාදයක් ඇත්ද, එතන ආදීනවය ඇත. යොනිසොමනසිකාරය තියෙන කෙනාට නිස්සරණය ඇත. අනිවාර්යයෙන්ම ආශ්වාදයක් තියෙනවා නම්, සතුටක් සොම්නසක් තියෙනවා නම් එතන ආදීනව නම් තියෙනවාමයි. යොනිසොමනසිකාරය තියෙන කෙනාට නිස්සරණයක් ඇත. නිදහස් වෙන්න පුලුවන්. එතකොට පින්වත්නි, බුදුරජාණන් වහන්සේ වදාළා ගහක ගෙඩි කනවා වගේ කියලා. ඔන්න කෙනෙක් ගහක ගෙඩි කනවා. එතකොට තව එක්කෙනෙක් එනවා. තව එක්කෙනෙක් ඇවිල්ලා බැලුවා මෙයාට ගහේ නගින්න බෑ. මේකා පොරවක් අරන් ඇවිල්ලා ගහ කපනවා. ගහ කපද්දි නුවණැති පුරුෂයා, අර ගෙඩි කකා ඉන්නැතිව ඉක්මණට ගහෙන් බහින්න ඕන, නැත්නම් ගහ පෙරළෙනවා. ඒ වගේ අපි මේ ගහක ගෙඩි කනවා වගේ එකක් අපි මේ පඤ්චකාමය භුක්ති විඳ විඳ ඉද්දින් මාරයා විසින් අපේ ජීවිත ආයුෂත් ගෙවලා දානවානෙ, කපලා දානවානෙ. ජරා මරණ දෙක එනවානෙ. කොයි වෙලාවෙ මැරෙයිද දන්නෙ නෑනෙ. ඉක්මණට අත්හරින්න වෙනවානෙ මේවා. දැන්ම හිත හදාගන්න වෙනවා මේවා අත්හරින්න. ඒ නිසා ගහක ගෙඩි කන එක නතර කරනවා වගේ අපේ හිත නොමගට ගියොත් මං මේ වෙලාවේ මැරුණොත් එහෙම කියන සංඥාවෙන් ඉක්මණට ඒ කාමයෙන් හිත නිදහස් කරගන්න වෙනවානෙ. බුදුවරු ලෝකෙට පහළ වෙලා ලෝකෙට මේ උපමා නිකං දේශනා කරන්නෑ පින්වත්නි. ඒකයි. ඊළඟට අංගාරකාසූපමා, ගිනිගොඩකට වැටුනා වගේ කියනවා. ගිනඅඟුරු වළකට වැටුනොත් පුරුෂයෙක් මෙහෙ බැලුවත් එහෙ බැලුවත් හැම තැනම ගිනිඅඟුරු, පිච්චෙනවා. ඒ වගේ බලන්න හිතට රාගයක් ආවොත්, හැම පැත්තෙන්ම දැවෙනවා තැවෙනවා. බැඳීමක් ආවොත් හැම පැත්තෙන්ම දැවෙනවා තැවෙනවා. ගිනිඅඟුරු වළකට වැටුනා වගේ. ඇත්තටම මේ ලෝකයේ සත්ත්වයා ඉන්නෙ සීතල පොකුණක සැනසිලා සුදුවැල්ලේ සැතපිලා නෙවෙයි. මේ ලෝකයේ සත්ත්වයා ඉන්නෙ ගිනිඅඟුරු වලක දැවි දැවී. පිටරටවල් වල දවස් පහේම හම්බකරනවා. හම්බ කරලා හම්බ කරලා - සති පඩියටනෙ. ඊටපස්සෙ දවස් පහේම හම්බ කරලා ඉක්මණට සතිය අවසානෙට මොකද කරන්නෙ, පඩිය ගන්නවා. පඩි අරන් ඉක්මණට ක්ලබ් වලට යනවා. එතකොට දැන් සිකුරාදා, බ්‍රහස්පතින්දා සිකුරාදා වෙනකොට ටෙන්ෂන් වැඩියි

එයාලට. ස්ට්‍රෙස්. හොඳටම පීඩාව වැඩියි. බනිනවා කට්ටියට, සැර දානවා. කාටවත් ළඟට එන්න දෙන් නෑ, ෆයිල් වීසි කරනවා. ඊටපස්සෙ පහුවදා පඩි හම්බෙනවා. පඩිය හම්බෙච්චි ගමන් ක්ලබ් වලට දුවනවා. දුවලා ඔන්න සඳුදා වෙනකොට කූල්ඩවුන්. සඳුදා වෙනකොට සාමාන්‍යයෙන් ආයෙ එයාලගෙ වැඩ ටික කරනවා. ආයෙ තව අවසානෙ වෙනකොට බ්‍රහස්පතින්දා, සිකුරාදා වෙනකොට හරිම අමාරුයි. සතියෙම හම්බකරන දේ අනිත් දවස් දෙකේ ඉවර කරනවා. හිස් ජීවිත විදියට, හිස් මිනිස්සු විදියට ජීවත් වෙලා, හිස් විදියට මැරිලා යනවා. මේ ලෝකෙ ආධ්‍යාත්මික වශයෙන් මනුස්සයෙකුට වෙනසක් වෙන්න තියෙන්නෙ මේ බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනාට විතරයි. ශ්‍රී සද්ධර්මය සරණ ගිය කෙනාට විතරයි. ආර්ය මහා සංඝරත්නය සරණ ගිය කෙනාට විතරයි. පුදුම ලෝකයක්, අපිට වෙච්ච යහපත හිතන්න, අපිට බුදු කෙනෙක් සරණ යන්න ලැබීම. අපිට වෙච්ච සැනසිල්ල හිතන්න, ශාස්තෘන් වහන්සේ සරණ යන්න ලැබීම. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඔය විදියට, ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා සර්පයාගේ හිස වගේ කිව්වා. සර්පයාගේ හිස පැත්තෙ කකුලක් තිබ්බොත් දෂ්ට කරනවා. කියන්නෙ අනතුර ළඟයි. අනතුරටමයි කරුණු යෙදෙන්නෙ. කාමය කියන එක පිටිපස්සෙ යන කෙනාට අනතුරටමයි කරුණු යෙදෙන්නෙ. ඉතින් මේ වාගේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය මෙහෙම තේරුම් ගන්න ඕන, බුදු කෙනෙක්ගේ ධර්මය ඇසුරින්. මේ විදියට ලෝකය ගැන විස්තර කරන, මේ විදියට ලෝකයේ යථා ස්වභාවය තේරුම් කරන වෙනත් දහමක් තව තියෙයි ද. මේ විදියට දේශනා කරපු වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් තියෙයි ද. බුද්ධ ශාසනයේ වෙනස වෙන් කරගන්න පින්වත්නි. මේ වාගේ ශාසනයක් නම් තවත් නෑ කියලා. දැන් ඒ නිසා ආදීනව ජීවිතේ කල්පනා කරලා තමන්ගේ ප්‍රශ්න විසඳගන්න ඕන. මොකද බුදුරජාණන් වහන්සේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය දේශනා කලා. නිකං නෙවෙයි, සම්පූර්ණයෙන් අවබෝධ කරලා. පටිච්ච සමුප්පාදය නිකං දේශනා කලේ නෑ. උන්වහන්සේ පටිච්ච සමුප්පාදය අවබෝධ කලා, බෝධි වෘක්ෂය මුල, සතිස් කෝටි සිය දහසක් වාරයක්, ලක්ෂ තිස් හය කෝටියක් නැවත විමසුවා. ඊටපස්සෙ තමයි අවිජ්ජා පච්චයා සංකාරා සංකාර පච්චයා විඤ්ඤාණං, විඤ්ඤාණ පච්චයා නාමරූපං ආදී වශයෙන් පටිච්ච සමුප්පාදය දේශනා කලේ තමන් ලොව්තුරා සම්බුදු බවටත් පත්වෙලා ලක්ෂ තිස්හත් කෝටි වාරයකුත් විමසලා. ආවාට ගියාට දහම් දෙසපු කෙනෙක් නොවෙයි. බුදුරජාණන් වහන්සේ වදාළා මහණෙනි. දේවදත්ත නේරෙයිකො අපායිකො, දේවදත්ත නිරයේ යනවා

අපායෙ යනවා, ආයෙ ප්‍රතිකර්ම නෑ. බුදුරජාණන් වහන්සේ ඒ විදියෙ ප්‍රකාශයක් කලේ, ආනන්ද ස්වාමීන් වහන්සේට දේශනාවක් කරනවා ආනන්ද, හරියට අශූචි වලකට වැටිච්ච කෙනෙක් බේරගන්න බලවත් සේ උත්සාහ කරන කෙනෙක්, අශූචි ගෑවිච්චි නැති ලොම් ගහක් හරි තියෙනවාද කියලා බලනවා කියනවා අර අශූචි වලෙන් වටේ කැරකි කැරකි බලනවා කියනවා අශූචි ගෑවිච්ච නැති තැනක් තියෙනවාද කියලා ඇදලා ගන්න මේකා. එහෙම තැනක් නැත්නම්, නෑ වගේ තමයි කියනවා, මම එකම එක කුසල් සිතිවිල්ලක් වත් තියෙනවාද කියලා දේවදත්ත ගැන බැලුවා කියනවා බේරගන්න. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා යම් දවසක ආනන්ද, මේ මනුස්ස ලෝකෙ මිනිස්සු අතර දේවදත්ත තරම් මං බලපු වෙන කෙනෙක් නෑ කියනවා. බේරගන්න බලපු වෙන කෙනෙක් නෑ කියනවා දේවදත්ත තරම්. අන්න එහෙමත් කරලා බේරගන්න ලොම් ගහක තරම්, කෙස් ගහක තරම් කුසල් සිතුවිල්ලක් කුසලයක් දේවදත්තගේ නොදැක්කාද ආන්න එදාට තමයි මං දේවදත්ත නිරයේ උපදිනවා කියලා ප්‍රකාශ කලේ. එතකොට බුදු කෙනෙක් මෙයා නිරයේ යනවා කියලා කිව්වොත් ඒක නිකං ප්‍රකාශ කරන්නෑ. කොච්චර විමසනවාද කියලා බලන්න. ඊටපස්සෙ බුදුරජාණන්වහන්සේමෙ දේශනා කරනවා රූපයේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය. වේදනාවේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය. සංඥා සංස්කාර විඤ්ඤාණ ආයතන වල. ඒ සියල්ල යම්තාක් ඒ ආකාරයෙන් අවබෝධ කරනවාද, ඒ තාක් කල් සම්මා සම්බුදුයි කියලා දේශනා කලේ නෑ. චතුරාර්ය සත්‍යය ධර්ම, සත්‍යාවබෝධය කෘත්‍ය ඥාණ, කෘතඥණාණ වශයෙන් පරිවර්ත තුනකින්, ආකාර දොළසකින් අවබෝධ කරන තාක් කල් සම්මා සම්බුදුයි කියලා ප්‍රකාශ කලේ නෑ. එහෙනම් එදා පස්වග භික්ෂූන් වහන්සේලා මුණගැහිච්ච වෙලාවෙ තථාගතො භික්ඛවෙ අරහං සම්මා සම්බුද්ධො කියලා වඩාගන්නෙ නිකං නෙවෙයි. අද කාලෙ නිකං භාවනා කරනවා, නැගිටිනවා මං මගපල ලැබුවා කියලා, සෝවාන් වුනා කියනවා. ඉන්ටනෙට් දානවා, එහෙමනෙ අද කාලෙ යන්නෙ. මොකක්හරි දහම් කරුණක් වැටහිච්ච ගමන් අනිත් අයට කියනවා, කිසිම විමසිල්ලක් නැනෙ. ඒවත් එක්ක බ ලනකොට අපේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ආශ්චර්‍යයියි, අද්භූතයි. එකම එක බණ පදයක් වත් දේශනා කරන්නෑ විමසන්නැතිව. එකම එක අකුරක්වත්. උන්වහන්සේගේ බුදු මුවින් පිටවෙන ධර්මය එක වචනයක්වත් වෙනස් වෙන් නෑ. ඒ නිසා යංච රත්තිං භික්ඛවෙ තථාගතෝ යම් දවසක යම් රාත්‍රියක තථාගතයන් වහන්සේ සම්මා සම්බුද්ධ වුනාද, යම් රාත්‍රියක පිරිනිවන්

පානවාද, අන්තරෙ භාසති ලභති නිද්දිස්සන්ති සබ්බන්තං තථෙ හොති න අඤ්ඤංතා. ඒ සම්බුදු වුන මොහොතේ පටන් පිරිනිවන් පාන මොහොත දක්වා ඒ අතරතුර බුදුරජාණන් වහන්සේ දේශනා කරපු, ප්‍රකාශ කරපු පනවපු විස්තර කරපු එක වචනයක් වත් වෙනස් වෙන් නෑ. සබ්බං තං තථේහොති නොඅඤ්ඤතා. සියල්ල ඒ විදියට තමයි වෙන්නෙ වෙනස් ආකාරයකින් වෙන් නෑ. තේරුම් ගන්න අපි සරණ ගිය ශාස්තෘන් වහන්සේගේ ආනුභාවය. මේ වචන දරාගන්න. බුදුරජාණන් වහන්සේට පහදින්න. බුදු කෙනෙක් ලෝකෙට පහළ වුන් නැත්නම් අපි ඉවරයි. අපි මේ හංකවිසියක් දන්නෙ නෑ. දැන් මේ කියන ආශ්වාදය, ආදීනවය, නිස්සරණය බුදුරජාණන් වහන්සේගේ මේ තියෙන අත්‍ය උදාර වූ ජීවිතය ගැන සුද්දො දන්නෙ නෑ. ටයිකෝට් ඇඳපු මිනිස්සු දන්නෑ. උන් කියනවා බුද්ධ කියලා කෙනෙක් පහළ වුනා, එච්චරයි. නමුත් ඔබ වයසක කෙනෙක් වුනත්, ඔබ ලෙඩ ඇඳේ හිටියත් බුදු කෙනෙක්ගේ උතුම් ගුණ කඳ අහනවා. ඒ සුද්දන්ට වැඩිය ඔබගේ සවන්පත් පින් කරලා. ඒ සුද්දන්ට වැඩිය ඔබගේ හද මඩල පින් කරලා. ඒ නිසා තමන්ගේ පින ගැන හිතන්න. ජීවිතේ අඩුපාඩු වැරදි ගැන හිත හිතා ජීවිතේ විඳවන්න එපා. වරදිනවා. ඒ වගේම ජීවිතේ නොමඟ යනවා. ධර්මය නැති ජීවිතයකට උරුම වෙන්නෙ ඕක තමයි. ඒ අතරෙ අපිට දහමක් ලැබුනා. ගල් බොරළු මැද මැණිකක් ලැබුනට පස්සෙ ගල් බොරළු බදාගන්නැතිව මැණිකම වැළඳගන්නවා වගේ ජීවිතේ පුරා ආපස්සට බලනකොට ඔබගෙත් නොයෙක් ගල් බොරළු තියෙනවා. වැරදිච්ච තැන්, හැලහැප්පිලි තිබ්බ තැන්, ඕවා වැළඳගන්න එපා. බුද්ධ රත්නය නැමැති බුද්ධ මාණික්‍යය වැළඳගන්න. ශ්‍රී සද්ධර්මය වැළඳගන්න. ආර්ය මහා සංඝරත්නය වැළඳගන්න. කරපු පින් කුසල් සිහි කරන්න. අහපු බණ පද සිහි කරන්න. ඒ නිසා ඔබගේ ජීවිතය පුරාවටම දිවි තිබෙනතුරු නිවන් දකින තුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. උතුම් තිසරණයෙන් ඔබගේ ජීවිතය සුවපත් වේවා කියලා ආශිර්වාද කරනවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රෙලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් නානායක්කාර මහත්මයා සහ රත්නසූරිය මහත්මිය. මැයි මස 09 වෙනි දින උපත ලැබූ සිඟිති දියණියටත්, ජූනි මස 17 වන දිනට 06 වෙනි ජන්මදිනය යෙදෙන දියණියටත් වයස අවුරුදු තුනක් වන පුංචි පුතාටත් මේ පින් බලයෙන් නිදුක් නිරෝගී සුවපත් භාවය, දීර්ඝායුෂ සම්පත්තිය ගෞතම බුදු සසුනේ පිහිට පිළිසරණම

ලැබේවා කියලා සෙත් පතනවා. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී ලක්දෙරණත් උතුම් බුද්ධ ශාසනයත් මේ සියලු දෙනාත් ආරක්ෂා කරත්වා. මිය පරලොව ගිය සියලු ඥාතීන් පරලොව සැපයට පත්වේවා. ගෞතම බුද්ධ ශාසනයේ උතුම් දහම් පිළිසරණක් අපිට ලබලා දුන්න අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා. ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු ගරුතර සඟරුවනටත් අනගාරිකා මෑණිවරුන්ටත් පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් නානායක්කාර මහත්මයා සහ රත්නසූරිය මහත්මියට පින් අනුමෝදන් වී ඒ ඇත්තො ගෞතම සසුනේ පිහිට පිළිසරණම ලබත්වා. ඒ වගේම මේ ලෝකයේ ආශ්වාදය, ආදීනවය, නිස්සරණය ඔබ කාටත්, අපි කාටත්, අපගේ ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් මේ ධර්මයේ පිළිසරණ, මේ දහම් වැටහීම සැලසේවා. සම්බුදු සරණ සැලසේවා. ඒ වගේම ලංකාවේ ලෝකයේ සිටින සියලු දෙනාට නිදුක් නිරෝගී සුවය, ඒ වගේම දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුවය දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ඒ වගේම අපි කාටත් උතුම් සම්බුදු සරණ තුළින් ගෞතම බුද්ධ ශාසනයේ මේ ලෝකයේ ආශ්වාදය ආශ්වාදය වශයෙන්, ආදීනවය ආදීනවය වශයෙන්, නිස්සරණය නිස්සරණය වශයෙන් අවබෝධ කරගෙන ධර්මවාබෝධය ඇතිකරගෙන සසර දුකින් නිදහස්වෙන්න මේ අපි ලබන, මේ අපි සරණ යන උතුම් සම්බුදු සරණ අපිට හේතු වාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=N-fouH1zF-0&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=62

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ උදෙසා අපගේ නමස්කාරය වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, මේ වෙනකොට අපි අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන බොහෝ කාලයක ඉඳලා ශ්‍රවණය කරමින් සිටින්නෙ. යම් කෙනෙකුට මේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන එක දිගට ශ්‍රවණය කරගන්න ලැබුනා නම් ඒක ඒ කෙනාගේ ජීවිතයට ලැබිච්ච විශාල භාග්‍යයක්. අතිශයින් විශාල භාග්‍යයක්. බුදුරජාණන් වහන්සේ නමකගේ ආනුභාවය, ඒ ධර්මයේ තේජස, ශාසනයේ ආනුභාවය එක දිගට මේ විදියට අහන්න ලැබෙනවා දුර්ලභයි. ඒ නිසා ඔබ මේ ධර්ම දේශනා මාලාව දිගින් දිගට ශ්‍රවණය කිරීම ඔබගේ ජීවිතේ විශාල භාග්‍යයක් කොට සළකන්න. හිතේ ඇතිවෙන චිත්ත ප්‍රසාදයක් ඇත්ද, ඒ චිත්ත ප්‍රසාදය සුළු දෙයක් නෙවෙයි පින්වත්නි. ඉතින් ඒ නිසා අද දවසේත් අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා ශ්‍රාවක දියණියක් දායකත්වය දරනවා. එතුමිය බලාපොරොත්තු වෙන්නෙ අපිට මේ ගෞතම බුද්ධ ශාසනයේ චිත්ත ප්‍රසාදය ඇතිවීම පිණිස මේ ශාසනික පිහිට අපිට ලැබුනේ ඒකාන්තයෙන් පරම පූජනීය ලොකු ස්වාමීන් වහන්සේ නිසා. ඒක සක් සුදක් සේ පැහැදිලි කරුණක්. ඒ නිසා තමයි පින්වතුනි අපගේ අංගුලිමාල මහරහතන් වහන්සේගේ ධාතූන් වහන්සේලා දහස් නමක් තව්තිසාවෙන් ලැබුණා. සර්වඥ ධාතූන් වහන්සේලා අටනමක් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ඒ සියල්ලම ලැබුනේ උන්වහන්සේ පරම පිවිතුරු සත්පුරුෂ අදහසින් මේ මනුෂ්‍යයාට දහම් දායාදය ලබාදීමට ලැබිච්ච ත්‍යාගයක් විදියට. ඒ නිසා තවත් අපිට සාක්ෂි කුමටද, උන්වහන්සේ මනුෂ්‍ය වර්ගයාට කළ යහපත ගැන. ඒ නිසා මේ ශ්‍රාවක දියණිය අද දවසේ ලොකු ස්වාමීන් වහන්සේ වෙනුවෙන් වෙනත් දිය යුතු වෙනත් උපරිම උන්වහන්සේ වෙනුවෙන් කළ යුතු වන්දනාවක් උපහාරයක් වෙනත් සිහි කරගන්න අමාරුයි. ධර්ම දානයෙන් රැස්වෙන පින ලබලා දෙනවා කියන අදහසින් අද දවසේ ධර්ම දානය ලබාදෙනවා කියලා සඳහන් කරනවා. ඉතින් ඒක තමයි අද ධර්ම දානයේ අරමුණ. ඉතින් අද අපි ඉගෙන ගන්නේ ඉතාමත් ලස්සන සුන්දර දේශනාවක්. දීඝ නිකායේ පාථික සූත්‍රය. ඉතින් මේ පින්වතුන්ට විශාල භාග්‍යයක් ලැබෙනවා ගෞතම බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුද්ධ ජීවිතය අන් අයට අහන්න

සලස්වන පින් බලයෙන්. ඉතින් අද දවසේ අපි කතා කරන්න කල්පනා කලා බුදුරජාණන් වහන්සේ ඒ කාලයේ අභියෝග වලට මුහුණ දුන්නු ආකාරය. බුදුරජාණන් වහන්සේ ඒ කාලයේ අභියෝග වලට මුහුණ දුන්නු ආකාරය. ඉතින් ඒක හරි විශ්මිතයි. දැන් ඒ වාගේ සිද්ධියක් තියෙනවා සමහර වෙලාවට භාග්‍යවතුන් වහන්සේ ළඟ පැවිදි වෙලා සිවුරු දාගෙනම බුදුරජාණන් වහන්සේට අභියෝග කලා. අන්‍යාගම්කාර තාපසවරු, පරිබ්‍රාජකවරු, බ්‍රාහ්මණයො, ඒ වාගේ තැන් වලදි අකම්පිත සිතකින් බුදුරජාණන් වහන්සේ ඒ සඳහා මුහුණදුන් ආකාරය තමයි අපි ඉගෙන ගන්නෙ. මේ සූත්‍ර දේශනාවක් ඇසුරෙන් අපි අද ඒ කාරණාව ඉගෙන ගනිමු. පාථික සූත්‍රය. හරි ලස්සනයි. ඒ කාලයේ භාග්‍යවතුන් වහන්සේ මල්ල ජනපදයේ අනුපියා නම් අඹ වනයේ තමයි වාසය කලේ. අනුපියා කියන මල්ල රජවරුන්ගේ නියම් ගමේ. භාග්‍යවතුන් වහන්සේ සිවුරු හැඳ පොරවාගෙන වැඩම කලා. භාග්‍යවතුන් වහන්සේට කල්පනා වුනා, තව කාලය තියෙනවා පිණ්ඩපාතයේ වඩින්න. ඒ නිසා ඊට කලින් මම භාර්ගවගොත්‍ර පරිබ්‍රාජකයාගේ ආරාමයට ගියොත් හොඳයි. ඉතින් ඒ කාලයේ පිණ්ඩපාතයට තව කල් තියෙනවානම් අන්‍යාගම් අයගේ ආරාම වලට ගොඩවෙන එක තියෙනවා, ඉතින් අද ඒවා නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඒ පරිබ්‍රාජකයාගේ ආරාමයට ගිහිල්ලා වඩිනකොටම හරී සතුටු හිතුනා, මේ භාර්ගව පරිබ්‍රාජකයාට. ඉක්මණට ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේට අනේ ස්වාමීනී වඩින්න කියලා ආසනයක් පනවලා, එයත් පොඩි ආසනයක් අරගෙන ළඟ ඉඳගත්තා. ඉඳගෙන ඒ භාර්ගව කියනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මේ ලිච්ඡවි පුත්‍ර සුනක්ඛත්ත මට මුණගැහුනා, ටික කාලෙකට කලින්. මුණගැහිලා මට කිව්වා භාර්ගව, දැන් මං භාග්‍යවතුන් වහන්සේ ප්‍රතික්ෂේප කරපු කෙනෙක්. මං භාග්‍යවතුන් වහන්සේ උදෙසා වාසය කරන කෙනෙක් නෙවෙයි කියලා මට ඇවිල්ලා කිව්වා. එතකොට සුනක්ඛත්ත සිවුරු ඇරලා. සුනක්ඛත්ත කියන්නෙ බුදුරජාණන් වහන්සේගේ උපස්ථානයටත් ළඟ හිටියා. දැන් සිවුරු ඇරලා. කියනවා භාර්ගව මම භාග්‍යවතුන් වහන්සේ ප්‍රතික්ෂේප කලා මට හරියන් නෑ කිව්වා. ඉතින් මේ භාර්ගව පරිබ්‍රාජකයා භාග්‍යවතුන් වහන්සේගෙන් අහනවා ස්වාමීනී, ඇත්තටම සුනක්ඛත්ත ඔය කිව්වෙ ඇත්තම කතාවක් ද. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා භාර්ගව, සුනක්ඛත්ත ලිච්ඡවි පුත්‍රයා, ඔහොම කතාවක් මා ඉදිරියේ කිව්වා. මේක ඔය ආකාරයෙන් තමයි වුනේ. භාර්ගව, සුනක්ඛත්තගෙන් මම ඇහුවා සුනක්ඛත්ත ඔබ දැන් මට කියනවානෙ භාග්‍යවතුන් වහන්සේ ප්‍රතික්ෂේප කරනවා මං අතහැරලා යනවා

කියලා. ඉතින් සුනක්ඛත්ත මම ඔබට කිව්වද මෙහෙ ඉන්න, මං ළඟ ඉන්න, මං ළඟ මහණ වෙන්න, මං ළඟම ඉන්න කියලා මං ඔබට කිව්වද. සුනක්ඛත්ත කියනවා අනේ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, භාග්‍යවතුන් වහන්සේ මට එහෙම කිව්වෙ නෑ. ඊටපස්සෙ සුනක්ඛත්ත ඔබ කිව්වද මම ඔබ වහන්සේ ළඟ මහණ වෙන්නම්, ඔබ වහන්සේ ළඟම ඉන්නම්, මං කවදාවත් අතහරින් නෑ කියලා මාත් එක්ක එහෙම කිව්වද. එහෙම නෑ. මමත් ඔහේට මං ළඟට එන්න, මාව අතහැරලා යන්න එපා කියලා මමත් කිව්වෙ නැත්නම්, ඔහේත් එහෙම කියලා නෙවෙයිනම් මහණ වුනේ කොච්චර අපරාධයක්ද කියලා බලන්න දැන් කියපු වචනෙ. ඔබවහන්සේ අතහැරලා යනවා, ප්‍රතික්ෂේප කරලා යනවා කොච්චර අපරාධයක් ද කියලා කිව්වා ඒ වචන. ඊටපස්සෙ සුනක්ඛත්ත ගත්කටටම කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මං මෙහෙම කරන්න කල්පනා කලේ භාග්‍යවතුන් වහන්සේ මට උත්තරීතර මනුස්ස ස්වභාවය ඉක්මවා ගිය උත්තරීතර වූ සෘද්ධි ප්‍රාතිහාර්ය බුදුරජාණන් වහන්සේ මට සෘද්ධි ප්‍රාතිහාර්ය පෙන්නුවෙ නෑ, මං ඒ ගැන අමනාපෙන් ඉන්නෙ. ඉතින් සුනක්ඛත්ත මං ඔබට කිව්වද සුනක්ඛත්ත මෙහෙ එන්න, මං ළඟ ඉන්න, මං ඔබට සෘද්ධි ප්‍රාතිහාර්ය පෙන්වන්නම් කියලා කිව්වද. අනේ නෑ. සුනක්ඛත්ත ඔබ මට කිව්වද, ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ ළඟට මං එනවා, මට සෘද්ධි ප්‍රාතිහාර්ය පෙන්වන්න, එතකොට තමයි මං මහණ වෙන්නෙ, එහෙම කිව්වද. එහෙම කිව්වෙත් නෑ. එහෙනම් සුනක්ඛත්ත, ඔබ මොකක්ද මේ ගැන හිතන්නෙ. ඒ විදියට මං මේවා අපි දෙන්නා එහෙම පොරොන්දුවක් වත් නැත්නම් මොකක්ද දැන් ඔය කියන කතාව. සෘද්ධි ප්‍රාතිහාර්ය පෙන්නුවෙ නැත්නම්, පෙන්නුවෙ නෑ, ඒ නිසා මං අතහැරලා යනවා. ඔය කතාව ගැලපෙනවාද කියලා ඇහුවා. කොච්චර අපරාධයක්ද ඔය වචනය. හිස් පුරුෂයො. ඊටපස්සෙ කියනවා සුනක්ඛත්ත මොකක්ද හිතෙන්නෙ. මං සෘද්ධි ප්‍රාතිහාර්ය පෙන්නුවා හෝ සෘද්ධි ප්‍රාතිහාර්ය පෙන්නුවෙ නෑ හෝ බුදු කෙනෙක් දහම් දේශනා කරනකොට ඒ ධර්මයට අනුව කටයුතු කළොත් කෙලෙස් ගිනි නිවාගන්න බැරිද කියලා ඇහුවා. සෘද්ධි ප්‍රාතිහාර්ය පෙන්නුවත් නැතත්. ස්වාමීනී සෘද්ධි ප්‍රාතිහාර්ය පෙන්නුවත් නැතත් කෙලෙස් ගිනි නිවාගන්න පුලුවන් කිව්වා. එහෙනම් හිස් පුරුෂයෝ මොකක්ද ඔය කියන කතාව කියලා ඇහුවා. මොකක්ද ඔය කතාවෙ තියෙන ජේනවද කියලා ඇහුවා ඒ කතාවෙ තියනෙ බරපතලකම. සෘද්ධි ප්‍රාතිහාර්ය පෙන්නුවත් නැතත් දුක් ගෙවාගන්න පුලුවන් නම්. එහෙනම් ඒ කාරණා අනුව තේරෙනවා බුදුරජාණන් වහන්සේ නමක් ළඟට කෙනෙක්

පැමිණිය යුත්තේම කෙලෙස් ගිනි නිවාගැනීම පිණිස මිසක්කා ප්‍රාතිහාර්ය බලන්න නෙවෙයි. දැන් මිනිස්සු ආසයි හරියට චෛත්‍යය වල ප්‍රාතිහාර්ය බලන්න, බෝධීන් වහන්සේලාගේ ප්‍රාතිහාර්ය බලන්න, රැස් විහිදෙනවා බලන්න හරි ආසයි. ඉතින් කල්පනා කරලා බලන්න ඕන ඒ රැස් විහිදෙනවා දැක්කා හෝ නැතා හෝ බුදුරජාණන් වහන්සේ දේශනා කරපු විදිය අනුගමනය කළොත් සංසාර දුකින් නිදහස් වෙන්න බැරිද. එහෙමනම් අපි මොනවද හොයන්නෙ හිතින් කියන ප්‍රශ්නය ශ්‍රාවකයාට තියෙන්නෙ ඕන. ඉතින් බුදුරජාණන් වහන්සේට කියනවා මේ සුනක්ඛත්ත භාග්‍යවතුන් වහන්සේ මට ලෝක පරිණාමවෙනිය, ලෝක වංශකතාව, මේ ලෝකය හැදිච්ච විදිය, මනුස්ස වර්ගයා හැදිච්ච විදිය, බුදුරජාණන් වහන්සේ මට දේශනා කරලා නෑ. ඒ නිසා ලෝක වංශ කතාව මට දේශනා කරපු නැති නිසා මං යනවා යන්න ගෙදර. සුනක්ඛත්ත මං ඔබට කිව්වද, සුනක්ඛත්ත මෙහෙ එන්න, මං ලෝක වංශ කතාව ඔහේට කියලා දෙන්නම්. අනේ නැහැ එහෙම එකක් කිව්වෙ නෑ. එතකොට සුනක්ඛත්ත කිව්වද මං භාග්‍යවතුන් වහන්සේ ළඟ පැවිදි වෙනවා, එහෙනම් මට ලෝක වංශ කතාව කියලා දෙන්න කියලද මහණ වුනේ. අනේ නෑ. ඉතින් මං එහෙම කිව්වෙත් නැත්නම්, ඔහේත් එහෙම කිව්වෙ නැත්නම් මොනවද මේ කියන කතා කියලා ඇහුවා. තමන්ගේ වචනෙ තියෙන අපරාධය බලන්න කිව්වා. ඉතින් සුනක්ඛත්ත ලෝක වංශ කතාව දැනගත්තා හෝ ලෝක වංශ කතාව දැනගත්තෙ නැතිවා හෝ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙන පිළිවෙලට මේ දහම් මාර්ගය ප්‍රගුණ කළොත් කෙලෙස් ගිනි නිවාගන්න බැරිද. ස්වාමීනී පුලුවන්. හිස් පුරුෂයෝ තේරෙන්නැද්ද කියලා ඇහුවා මේ ධර්මය. ඉතින් දැන් මේවා අනුව කල්පනා කරලා බලනකොට හොඳට කල්පනා කරන්න ගොඩාක් අය බුදුරජාණන් වහන්සේ ඉපදුනේ ලංකාවෙද, නැද්ද, ලංකාවේ රාවණයෙක් හිටියද, නැද්ද, විජය කුමාරයා ලංකාවට එන්න කලින් මිනිස්සු හිටියද නැද්ද, කොහොමද දැන් මේ කාලෙ යන දෘෂ්ටි. එතකොට නුවණැති ආර්ය ශ්‍රාවකයා, තෙරුවන් සරණ ගිය ශ්‍රාවකයා කල්පනා කරනවා ඒවා එහෙම සිදුවුනා හෝ නැතා හෝ මේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය හරියට පුරුදු කලොත් පුහුණු කලොත් කෙලෙස් ගිනි නිවාගන්න බැරිද කියලා ශ්‍රාවකයා කල්පනා කරනවා. එතකොට නුවණැති ශ්‍රාවකයා තේරෙනවා මේවගේ පටලැවී පටලැවී යන්න උවමනාවක් නෑ, මොකද පටලැවෙන්න පටලැවෙන්න ආයුෂමයි ගෙවෙන්නෙ. බණපොතක් කියවගන්න, ධර්මයක් අහන්න, ධර්මයේ හැසිරෙන වෙලාව නෙමෙයිද මේ දෘෂ්ටි පිටිපස්සෙ ගියාට

පස්සෙ ගෙවෙන්නෙ. බුදුරජාණන් වහන්සේ ජීවමාන කාලෙත් ගැරහුවා මේවට. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සුනක්ඛත්ත ඔහේම මේ මිනිස්සුන්ට බණ කිය කියා ගියා නේද, භාග්‍යවතුන් වහන්සේ අරහං වන සේක, සම්මා සම්බුද්ධ වන සේක, විජ්ජාචරණ සම්පන්න වන සේක, සුගත වන සේක, ලෝකවිදූ වන සේක, අනුත්තර පුරිසදම්මසාරථී වන සේක, සත්තා දේව මනුස්සානං වන සේක, බුද්ධ වන සේක, භගවා වන සේක කියලා භාග්‍යවතුන් වහන්සේ තමයි තුන් ලෝකෙම ශ්‍රේෂ්ට කියලා බුදුගුණ කිය කියා බණ කිව්වා නේද කියලා ඇහුවා. ඔහේම කිව්වා නේද මේ ධර්මය භාග්‍යවතුන් වහන්සේ දේශනා කරන ධර්මය ස්වාක්ඛාතයි, සන්දිට්ඨිකයි, අකාලිකයි, ඒහිපස්සිකයි, ඕපනයිකයි, නුවණැත්තන් විසින් තම තම නැණ පමණින් දැනගත යුතු, පච්ඡත්තබ්බං වේදිතබ්බො විඤ්ඤූහි ධර්මයක් කියලා. ඔහේම බණ කිව්වා නේද මේ සංඝයා සුපටිපන්නයි, උජුපටිපන්නයි, ඤායපටිපන්නයි, සාමීචිපටිපන්නයි, මාර්ග ඵල ලබපු උත්තමයො, ආහුණෙය්‍ය, පාහුණෙය්‍ය ආදී වශයෙන් සඟ ගුණ කියමින් ධර්මය ගැන කියමින් ඉස්මතු කරමින් බණ කිව්වා නේද මිනිස්සුන්ට කියලා ඇහුවා. ඉතින් ඔය විදියට තුණුරුවන්ගේ ගුණ කිය කියා ඉඳලා සිවුරු හැරියොත් එහෙම මිනිස්සු ඔහේට නින්දා කරයි කිව්වා. මහලොකුවට බුදුගුණ කිව්වා, දහම් ගුණ කිව්වා, සඟ ගුණ කිව්වා, ශ්‍රේෂ්ට ධර්මයක්, දැන් ඔහේම මොන කෙහෙල්මලටද මේක අතහැරියේ කියලා. ඔහේට නින්දා ලබන්න වෙනවා කිව්වා මිනිස්සු අතරට ගියාට පස්සෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා භාගවී මා විසින් සුනක්ඛත්ත ලිච්ඡවි පුත්‍රයාට ඔය විදියට පවසද්දි අපායට යන්න කැමැත්තෙන් යනවා වගේ, නිරයට යන්න කැමැත්තෙන් යනවා වගේ ඒකට නියම කරලා තියෙනවා වගේ මේ බුද්ධ ශාසනය අතහැරලා මේ මනුස්සයා සිවුරු හැරියා. සුනක්ඛත්ත. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා භාගීව එක් කලෙක මම කුළු කියන ජනපදයේ කුළුන්ට අයත් උත්තරකා කියන නියම් ගමේ වාසය කලා. භාගීව, මම සිවුරු පොරවගෙන මම මේ සුනක්ඛත්තත් එක්ක තමයි පිණ්ඩපාතෙ වැඩියෙ. කෝරක්කත්තිය කියලා නිරුවත් තවුසෙක් හිටියා බලු ව්‍රතය සමාදන් වෙලා. දණහිස් දෙක බිම තියාගෙන වැලමිට දෙක බිම තියාගෙන ඒ තාපසයා ගමන් කරන්නෙ. ආහාර අතින් නෙමෙයි මුඛයෙන් බිම තියලා කන්නෙ. මුඛයෙන් අනුභව කරන්නෙ, බල්ලෙක් වගේම තමයි ජීවිතය ගත කරන්නෙ, බලු ව්‍රත, සුනඛ ව්‍රත සමාදන් වුනු කෝරක්කත්ත. භාගීව, සුනක්ඛත්ත ලිච්ඡවි පුත්‍රයා මේ කෝරක්කත්තිය දැකලා කල්පනා කලා භවත්නි ඒකාන්තයෙන්

සොඳුරු අර්හත් වූ ශ්‍රමණයෙක් මේ ඉන්නෙ, මේ රහතන් වහන්සේ නමක් අප්පේ කියලා අර බලු ව්‍රතය සමාදන් වෙන කෝරක්කත්තියට පැහැදුනානෙ මේ සුනක්ඛත්තයා. ඉතින් භාගීව මම මගේ හිතින් සුනක්ඛත්තගෙ හිත දැකලා මම සුනක්ඛත්තට කිව්වා හිස් පුරුෂය, නුඹත් ශ්‍රමණ ශාක්‍ය පුත්‍ර ශ්‍රමණයෙක් කියලා ප්‍රතිඥා දෙනවානෙ, ඔහෙත් බුද්ධ ශාසනයේ මහණ වෙලා ඉන්නවානෙ කියලා මිනිස්සුන්ට කියනවානෙ කිව්වා. ඉතින් අහනවා සුනක්ඛත්ත ඇයි භාග්‍යවතුන් වහන්සේ මට එහෙම කියන්නෙ. ඇයි සුනක්ඛත්ත අර බලු ව්‍රතය සමාදන් වෙලා හතරගාතෙන් යන බිම තියෙන කෑම කටින්ම උලා කන කෝරක්කත්තිය දැකලා රහතන් වහන්සේ නමක් කියලා හිතුවා නේද කියලා. අම්මේ සුනක්ඛත්තයා ගත්කටටම ඇහුවා ඇයි භාග්‍යවතුන් වහන්සේ අනික් අය රහත් වෙනවට ඊර්ෂ්‍යායි ද කියලා ඇහුවා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා හිස් පුරුෂය මම අනිත් අයගේ රහත් බවට මසුරු නෑ. ඒත් සුනක්ඛත්ත නුඹ දෘෂ්ටිය වරද්දගත්තා. ඒ දෘෂ්ටිය අත්හරින්න. ඒ දෘෂ්ටිය අත්හැරියෙ නැත්නම් ඔබට බොහෝ කාලයක් අහිත පිණිස, දුක පිණිස පවතිනවා. දැන් හොඳට තේරුම් ගන්න. රහත් නොවිච්ච කෙනෙක් ගැන මේ අර්හත් මාර්ගය පැහැදිලි පිරිසිදු බුද්ධ ශාසනයේ පිහිටක් නැති කෙනෙක් ගැන රහත් වෙලා කියලා හිතනවා. දැන් අද කාලෙ බොරු රහතුන්ට මිනිස්සු රහත් වෙලා කියලා ඇත්තටම හිතන්නෙ. ඒ හිතන මිනිස්සුනට බොහෝ කාලයක් අයහපත පිණිස, දුක පිණිස පවතිනවා ඒ සිතිවිල්ල අත්හැරියෙ නැත්නම්. දැන් බලන්න මේ එක එක්නෙකා රහත් රහත් කියලා බොරුවට රඟපාන එකෙන් කීදෙනෙකුට හානියක් වෙනවාද. බුද්ධ දේශනා ඇසුරෙන් මං මේ කියන්නෙ. ඊටපස්සෙ සුනක්ඛත්තට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සුනක්ඛත්ත සොඳුරු ගති ඇති රහත් ශ්‍රමණයෙක් කියලා මේ කෝරක්කත්ත ගැන ඔහේ හිතුවට, අද ඉඳලා දවස් හතක් ගිය තැන අජීර්ණ රෝගයක් ඇවිල්ලා, අලසක කියන අජීර්ණ රෝගය ඇවිල්ලා මෙයා මැරෙනවා. මැරිලා ගිහිල්ලා මෙයා උපදින්නෙ කාලකන්ජක කියන අසුර නිකායෙ. මැරුණ මෙයාගෙ මිනිය කීරණත්තම්භක කියන සොහොනෙන් එහාට ගෙනියන්න බෑ, ඒ සොහොනටම දාන්න වෙනවා. ඉතින් ඔබට මං කියන එක ඔබ විශ්වාස නොකරනවා නම් ඔබ ගිහිල්ලා ඒ සොහොනට ගිහිල්ලා මෙයාට ඇඟට තට්ටු කරලා අහන්න කෝරක්කත්තිය ඔබ මැරුණට පස්සෙ කොහෙද ඉපදුනේ කියලා. එතකොට එයා නැගිටලා කියයි මං කාලකන්ජක අසුර නිකායෙ උපන්නා කියලා. කාලකන්ජක අසුර

නිකාය කියන්නෙ පින්වත්නි, ශරීරය යොදුන් තුනක්, කිලෝමීටර් තිහක් විශාලයි ශරීරය. ඔළුව තියෙන්නෙ ලබු ගෙඩියක් තරම්. කට ඉදිකට්ටක් තරම්. ඒ ශරීරය උස්සන්න බෑ, ඒ අසුරයාට උස්සන්න බෑ මෙහෙම පෙරලිලා ඉන්නවා. ඔළුව මෙහෙම හරවා හරවා අර ඉදිකට්ටක් තරම් කට ළඟට මොනවහරි ආහාරයක් එනවාද ඒක තමයි කන්නෙ. නමුත් කිලෝමීටර් තිහක් තරම් විශාල ශරීරයක් ඉදිකට්ටක් තරම් කටකින් කොහොමද ඇතිවෙන්න පුරවන්නෙ. එහෙම තමයි කාලකන්ජක අසුර නිකාය කියන්නෙ. ඊටපස්සෙ භාග්‍යව දැන් සුනක්ඛත්තට මං එහෙම කිව්වට පස්සෙ සුනක්ඛත්තයා හොරෙන් ගිහිල්ලා කියනවා කෝරක්කත්තියට, කෝරක්කත්තිය ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මේ වගේ අනාවැකියක් කිව්වා. ඕක අපි එකතුවෙලා බොරු කරන්න ඕන. උඹ අද ඉඳලා කනකොට පොඩ්ඩ පොඩ්ඩ කාපං. වතුරත් පොඩ්ඩ පොඩ්ඩ බීපං, හොඳට දිරවන්න පුලුවන් විදියට හදාගනිං කිව්වා. ඉතින් මේ මනුස්සයා එහෙම කිව්වට ඇත්තටම හත්වෙනි දවසේ කෝරක්කත්තියට අලසක කියන අජීර්ණ රෝගය හැදිලා කෝරක්කත්තිය මැරුණා. ඊටපස්සෙ දැන් සුනක්ඛත්ත කම්මුලේ අත තියාගෙන කල්පනා කරලා ඉන්නකො ඊළඟ එකත් බලන්නම් කියලා, දැන් ඔන්න මිනිය ගෙනියන දවසේ කට්ටියට කිව්වා වෙනත් පැත්තකට අරන් පලයල්ලා කියලා. දැන් කෝරක්කතියගෙ මිනිය වෙන පැත්තකට ගෙනියන්න හදනවා උස්සන්න බෑ. තියෙන තැනින් මිනිය උස්සන්නත් බෑ, ඉතින් ලණු දාගෙන ඇදගෙන ගිහිල්ලා තියෙන්නෙ. ලණු දාලා ඇදගෙන ඇදගෙන යනකොට ඒක ඇදගන්නට පුලුවන් වෙලා තියෙන්නෙත් කීරණත්ථම්භක කියන සොහොන ළඟට විතරයි. එතනින් එහාට අදින්න බෑ ලණු ඔක්කොම කැඩිලා. ඒ සොහොනෙම දැම්මා. ඊටපස්සෙ රෑ හොරෙන් හොරෙන් සුනක්ඛත්ත ගිහිල්ලා, බලන්න බුදු කෙනෙක්ගේ වචනය බොරු කරන්න දඟලන දැඟලිල්ල. ඊටපස්සෙ සුනක්ඛත්ත ගිහිල්ලා අර මිනිහට තට්ටු කරලා අහනවා ඈ කෝරක්කත්තිය උඹ කොහෙද උපන්නෙ. අර මිනිය නැගිට්ටා. මිනිය නැගිටලා, ඇඟේ වැලි පිහදාලා නැගිටලා කියනවා මං ඉපදුනේ කාලකන්ජක කියන අසුර නිකායේ කියලා එහෙම්මම උඩුබැලි අතට ආයෙ වැටුනා. බුදුරජාණන් වහන්සේ පහුවදා සුනක්ඛත්තගෙන් අහනවා, සුනක්ඛත්ත මං අර කියපු ඒවා හරි වුනාද, වැරදි වුනාද. ස්වාමීනී හරි ගියා. එතකොට එහෙම නම් මං උත්තරීතර මනුස්ස ධර්ම ඔබට පෙන්නලාද නැද්ද කියලා ඇහුවා. ඍද්ධි පෙන්නලා නැද්ද දැන් කියලා ඇහුවා. පෙන්නලා තියෙනවා කිව්වා. එහෙනම් හිස් පුරුෂයෝ මේ විදියට මම උත්තරීතර මනුස්ස ධර්ම ඔබට

දැනෙන්න සලස්වද්දි මොනවද මේ කියන්නෙ කියලා ඇහුවා, මට මේ භාග්‍යවතුන් වහන්සේ උත්තරීතර මනුස්ස ධර්ම පෙන්වන්නෙ නෑ කියලා. භාගීව ක්ෂීණ සුනක්ඛත්තට මං ඔය විදියට කරුණු දක්වද්දිනුත් මෙයා නිරයට යොමු වූ කෙනෙක් වගේ, ඊළඟට අපායටම නියම වූ කෙනෙක් වගේ සිවුරු ඇරලා ශාසනයෙන් බැහැරව ගියානෙ කිව්වා. ඊටපස්සෙ භාගීව ඒ විතරක් නෙවෙයි. මං විශාලා මහනුවර මහා වනයේ කූටාගාර ශාලාවේ ඒ කාලෙ වැඩ හිටියෙ. ඒ කාලෙ හිටියා, කලාරමට්ඨුක කියලා නිරුවත් තාපසයෙක්. විශාලා මහනුවර ග්‍රාමයේ ලාභයෙන් අගතැන්පත් වෙලා වාසය කලා, මෙයා ව්‍රත පද හතක්, සත්ව ව්‍රත පද හතක් රකිනවා. ව්‍රත පද හතක්. මොකක්ද දිවි තිබෙනතුරා නිරුවත්ව ඉන්නවා. දිවි තිබෙන තුරා වස්ත්‍ර අඳින් නෑ. දිවි තිබෙන තුරා බ්‍රහ්මචාරීව ඉන්නවා, අඹුසැමි ඇසුරක යෙදෙන් නෑ. දිවි තිබෙන තුරා සුරාවලින් හා මස්වලින් පමණක් මම යැපෙනවා. සුරා බොනවා, මස් කනවා ජීවිතේ පුරාම. බත් ව්‍යංජන ආදිය මං අනුභව කරන් නෑ. විශාලා මහානුවර නැගෙනහිරින් උදේනි කියන චෛත්‍යය තියෙනවා නම් එතනින් එහාට මං යන්නෑ. විශාලා මහනුවරට දකුණින් ගෝතම චෛත්‍යස්ථානයෙන් මං එළියට යන්නෑ. ඒ වගේම විශාලා මහනුවර බටහිරින් සත්ථම්භ නම් චේතියෙන් එළියට මම යන්නෑ. විශාලා මහනුවර උතුරින් බහුබුත්තක නම් චෛත්‍යයක් තියෙනවා ඒකෙන් මම යන්නෑ කියලා ව්‍රත පද හතක්. ඉතින් මිනිස්සු රහතන් වහන්සේ නමකට වගේ මේ කලාරමට්ඨුකට උපස්ථාන කරනවා. ඊටපස්සෙ භාගීව දවසක් අපි ඔය පැත්තෙ පිණ්ඩපාතෙ වඩිනකොට මේ සුනක්ඛත්තයා දැක්කා අර තාපසයා. දැකලා කල්පනා කරනවා අප්පේ පුදුම කෙනෙක්නෙ ගිහිල්ලා ගුරුහරුකම් ගන්න ඕන කියලා. දැන් බුදු කෙනෙක්ගේ පිටිපස්සෙන් මේ යන්නෙ. බුදු කෙනෙක් පිටිපස්සෙන්. මෙයා හිමීට හිමීට කැලෙන් පොඩි රවුමක් දාලා ගිහිල්ලා මේ සුනක්ඛත්ත අර කලාරමට්ඨුකට හිස පාත් කරලා කියනවා අනේ මට දහම් කාරණාවක් දැනගන්න තියෙනවා කියලා ප්‍රශ්නයක් ඇහුවා. අර කලාරමට්ඨුකට ඒක ජීවිතේට අහලා නෑ ඒක තේරෙන්නෙත් නෑ ඒ තාපසයාට. ඊටපස්සෙ හොඳටම සැරදැම්මා එන්න එපා ඔහේ මේවා අහන්න, අපිත් එක්ක හැප්පෙන්න එන්න එපා කියලා සැරදැම්මා. ඊටපස්සෙ සුනක්ඛත්තට ඒ වෙලාවෙ හිතෙනවා අනේ මං රහතන් වහන්සේ නමක් පීඩාවට පත් කලා, අනේ මං අතින් වැරදුනා. මට සංසාරෙ ගොඩාක් කාලයක් මේක බලපායි කියලා මේ සුනක්ඛත්තයා. ඊටපස්සෙ ආයෙත් හොරෙන් හැංගිලා බුදුරජාණන් වහන්සේ පිටිපස්සට එනවා. දැන් පිණ්ඩපාතෙ යද්දින් වීදි වලින් එහෙන් මෙහෙන්

කොච්චර රවුමක් මේ සුනක්ඛත්ත දාලා තියෙනවාද. බුදුරජාණන් වහන්සේ වදාළා හිස් පුරුෂය ඔහෙත් මේ බුද්ධ ශාසනේ මහණ වුනු උන්නාන්සේ නමක් කියලා කියනවානෙ. ඇයි භාග්‍යවතුන් වහන්ස. අර කලාරමට්ඨුකට පැහැදුනා නේද රහත් වුනා කියලා. ඊටපස්සෙ අහනවා ඇයි භාග්‍යවතුන් වහන්සේ ඔබ වහන්සේ තවත් අය රහත් වෙනවාට ඊර්ෂ්‍යයිද කියලා ඇහුවා. බලන්න මෙහෙම පුදුම දේවල්. සත්පුරුෂ කම නැත්නම්, යොනිසොමනසිකාරය නැත්නම් වැඩක්ම නෑ. අභ්‍යන්තරයේ තියෙන්න ඕන යොනිසොමනසිකාරය. යොනිසොමනසිකාරය නැති කෙනා බුදුරජාණන් වහන්සේගේ පිටිපස්සෙන් ගියත් වැඩක් නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ අහනවා, දේශනා කරනවා සුනක්ඛත්ත මම එහෙම අනෙක් අයගේ අර්හත්වයට ඊර්ෂ්‍යාව නෑ. නමුත් සුනක්ඛත්ත මට පේනවා ඔය නිරුවත් කාලාරමුට්ඨික තාපසයා තව ටික දොහකින් හොඳට ඇඳපැළඳගෙන ගෑණියෙකුත් අරගෙන හොඳට බත් ව්‍යංජන කාලා ඔය විශාලා මහනුවර අර කියපු චෛතියස්ථානත් ඉක්මවා ගිහිල්ලා ඈතකට ගිහිල්ලා කිසිම යසපිරිවරක් නැතිව හුදකලාවේ මැරෙනවා කියලා කිව්වා. ඇත්තටම ටික දොහක් යනකොට අර කාලාරමට්ඨුක ගෑණියෙකුත් අරගෙන පැන්නා. ගිහිල්ලා අර චෛතියස්ථාන වලිනුත් ඈතට ගිහිල්ලා කැලේකට ගිහිල්ලා රෑ බුදියාගෙන ඉන්නකොට සීතලට අහුවෙලා ගෑණිගෙ ඔඩොක්කුවෙම මලා. දැන් සුනක්ඛත්තට ආරංචි වුනා. සුනක්ඛත්ත ඇවිල්ලා බුදුරජාණන් වහන්සේට වන්දනා කලා. බුදුරජාණන් වහන්සේ අහනවා අර මං කියපු දේ සිද්ධ වුනාද, නැද්ද. සිද්ධ වුනා භාග්‍යවතුන් වහන්ස. හිස් පුරුෂයො මෙච්චරත් ඍද්ධි ප්‍රාතිහාර්ය දක්වද්දි ඔහේ කියනවා නේද කියලා ඇහුවා භාග්‍යවතුන් වහන්සේ ඍද්ධි ප්‍රාතිහාර්යයන් පෙන්වන්නෑ කියලා. දැන් මට මේක කියනකොට කල්පනා වුනේ දැන් ඔන්න මේකෙ තියෙනවා සුනක්ඛත්ත මේ තියෙන්නෙ, එකල්හි මම යම් තැනෙක හුන්නෙම් ද සුනක්ඛත්ත ලිච්ඡවි පුත්‍රයා එතනට පැමිණියේය. පැමිණ මට සකසා වන්දනා කොට එකත්පස හිඳ ගත්තේය. එහෙනම් සුනක්ඛත්ත ඇවිල්ලා ගෞරවයෙන් බුදුරජාණන් වහන්සේට වන්දනා කරලා එකත්පස්ව හිටියා. එතකොට බුදුරජාණන් වහන්සේ ඔහුට ආමන්ත්‍රණය කලේ කොහොමද, හිස් පුරුෂය. එතකොට වැඳගෙන ළඟ ඉන්න පුලුවන්, නමුත් දෘෂ්ටිය වැරදිලා නම් කොච්චර බුදු කෙනෙකුට වැන්දත් ඔහුගේ දෘෂ්ටිය වැරදිලා නම් ජීවමාන කාලෙත් බුදුරජාණන් වහන්සේ ඒ සිවුර දරාගත්ත කෙනාට වදාළේ හිස් පුරුෂය කියලා. ඒ නිසා දෘෂ්ටිය වැරදිලා නම් කොච්චර බුදුන් වැඳ වැඳ හිටියත් හිස් පුරුෂයා

කියන වචනෙන් නිදහස් වෙන්න බෑ. බුදු කෙනෙක් ගැන තේරෙන්නෑ, ධර්මයේ වටිනාකම තේරෙන්නෑ, රහත් සැබෑ රහතන් වහන්සේලා ගැන තේරෙන් නෑ. මේ ඔය සිහි කරන්න කල්පනා කරන්න කාරණා මේවා. ඊටපස්සෙ පින්වත්නි බුදුරජාණන් වහන්සේ භාගීවට කියා තිටිනවා, භාගීව තව කාරණාවක් තියෙනවා. ඒ තමයි භාගීව මං එක් කාලෙක විශාලා මහනුවර මහාවනයේ කූටාගාර ශාලාවෙම වාසය කලා. එසමයෙහි පාථික පුත්‍ර නම් නිරුවත් තාපසයෙක් විශාලා මහනුවර වජ්ජි ගමෙහි ලාභලෝභ ලබමින් වාසය කලා. ඊටපස්සෙ මෙයා කියනවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ඥාණය ගැන කතා කරන කෙනෙක්, නුවණ ගැන කතා කරන කෙනෙක්. මමත් එහෙම කෙනෙක්. ඉතින් ශ්‍රමණ භවත් ගෞතමයන් සමඟ කතා බහ කරන්න ඕන වුනොත් මම ඒකට කැමැතියි. මාත් එක්ක කතා කරන්න ශ්‍රමණ භවත් ගෞතමයන් එනවා නම් උන්වහන්සේ පාරෙ භාගයක් ආවොත් ඉතුරු භාගෙ මම යනවා මිසක්කා මං එයාව හොයාගෙන යන්නෑ, හැබැයි යම් දවසක මං ළඟට ඇවිල්ලා ශ්‍රමණ භවත් ගෞතමයො ඍද්ධි ප්‍රාතිහාර්යක් එහෙම පෑවොත් මම ඒ වගේ දෙකක් පානවා. ශ්‍රමණ භවත් ගෞතමයො මං ළඟට ඇවිල්ලා ඍද්ධි ප්‍රාතිහාර්ය දෙකක් පෑවොත් මං ඒ වගේ හතරක් පානවා. මං ගාව ඇවිල්ලා ඍද්ධි ප්‍රාතිහාර්ය හතරක් පෑවොත් මම අටක් ඍද්ධි ප්‍රාතිහාර්ය පානවා. යම් යම් විදියකින් උත්තරීතර මනුස්ස ධර්ම වූ ඍද්ධි ප්‍රාතිහාර්ය පාන්නේ ද මම ඒක දෙගුණ දෙගුණ කොට පානවා කියලා කිව්වා. මේ බලන්න බුද්ධ කාලයේ සිද්ධ වෙලා තියෙන ඒවා. ඉතින් ඊටපස්සෙ භාගීව මම යම් තැනකද, සුනක්ඛත්ත ඒ තැනට ඇවිල්ලා මට වන්දනා කලා. වන්දනා කරලා කියනවා ස්වාමීනී මේ නිරුවත් තාපසයෙක් වන වජ්ජි ගමේ ඉන්න පාථික පුත්‍ර තාපසයා මේ වගේ කතාවක් කියලා තියෙනවා. කියලා කිව්වට පස්සෙ බුදුරජාණන් වහන්සේ සුනක්ඛත්තට කියනවා, බලන්න අහක යන බුදුරජාණන් වහන්සේට බනිනවා නම් දොස් කියනවා නම් ඒ කුණු ගොඩම සුනක්ඛත්ත අරන් එනවානෙ. පුදුම සහගත දෙයක් ඒක. ඉතින් සුනක්ඛත්ත දැන් කුණුගොඩ අරන් ආවා. ඉතින් බුදුරජාණන් වහන්සේ අහනවා සුනක්ඛත්ත ඔය නිරුවත් පාථික පුත්‍රයා, තාපසයා ඔය දෘෂ්ටිය අත් නොහැර, ඔය අදහස් අත් හරින් නැතිව ඔය සිත අත්හරින් නැතිව ශ්‍රමණ භවත් ගෞතමයන් ළඟට යන්න ඕන කියලා මං ඉදිරියට ආවොත් හිස ගැලවිලා වැටෙනවා කිව්වා. බුදු කෙනෙකුට අභියෝග කරලා ඔය විදියට ආවොත් එහෙම හිස ගැලවිලා වැටෙනවා කිව්වා. රක්ඛතේතං භන්තේ භගවා වාචාං,

සුනක්ඛත්ත කියනවා ස්වාමීනී, කතාව පරිස්සමින්. ස්වාමීනී කතාව පරිස්සමින්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ අහනවා, ඈ සුනක්ඛත්ත මොකෝ මේ පරිස්සමින් කතා කරන්න කිව්වෙ. පුදුම දේවල් පින්වත්නි මේවා. ඊටපස්සෙ කිව්වා දැන් ඔබවහන්සේ කිව්වනෙ ඔය පාථික පුත්‍ර සුනක්ඛත්ත මං ඉස්සරහට ආවොත් එහෙම හිස ගැලවිලා වැටෙනවා කියලා. භාග්‍යවතුන් වහන්සේ වදාළා මං ඒක කිව්වා. ඇයි ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස ඔය පාථික පුත්‍රයා සිංහයෙක් විදියට හරි කොටියෙක් විදියට හරි වෙනත් විදියකට හරි වෙස් මාරු කරගෙන ආවොත් ඔබ වහන්සේ ඉස්සරහට. දැන් ඔබවහන්සේ කිව්වෙ පාථික පුත්‍රයා ආවොත් බෙල්ල ගැලවෙනවා කියලා. ඒ මනුස්සයා වෙස් මාරු කරගෙන ඔබවහන්සේ ළඟට ආවොත් එහෙම ඔබ වහන්සේගේ වචනය බොරු වෙනවා. මේ සුනක්ඛත්ත නම් මොකෙක්ද කියලයි මං මේ කල්පනා කරන්නෙ. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ වදාළා, සුනක්ඛත්ත මං මේ කාරණාව කියන්නම්. ඔය පාථික පුත්‍ර ඔය පිරිවැජියා ඔය අදහස අත්හරින් නැතිව ඔය සිත අත්හරින් නැතිව මා කරා පැමිණෙනවා නම් හිස ගැලවිලා වැටෙනවා. සුනක්ඛත්ත මගේ වචනය තථාගතො යා සා වාචා සුනක්ඛත්ත, යම් තථාගතයන් වහන්සේගේ යම් වචනයක් තියෙනවා නම් සුනක්ඛත්ත ද්වයගාමිනී, ඒ වචනෙ දෙකක් වෙනවද, ඒ කියන්නෙ මං ළඟට මෙහෙම ආවොත් හිස ගැලවෙනවා කියන එක එහෙම ආවොත් විතරයි ගැලවෙන්නෙ, වෙන විදියකින් ආවොත් වෙන්නෑ කියලා කොටස් දෙකකට බෙදෙනවාද කියලා ඇහුවා. එහෙම නෑ. තථාගයන් වහන්සේ යම් ප්‍රකාශයක් කලොත් එකම එකයි වෙන්නෙ. යටිකූට්ටු කතා, වක්‍ර අදහස් එහෙම නෑ. ඍජු අදහසක් තියෙන්නෙ. පාථික පුත්‍රට එන්න බෑ, ඊටපස්සෙ අහනවා මේ සුනක්ඛත්තයා ඇයි භාග්‍යවතුන් වහන්ස, ඔය පාථික පුත්‍රයා ඔහොම භාග්‍යවතුන් වහන්සේ ළඟට ආවොත් හිස ගැලවෙනවා කියන එක ඔබවහන්සේට දිවැසින් පේනවද, එහෙම නැත්නම් ඔබ වහන්සේට දෙවියෙක් හරි ඇවිල්ලා ඕවා කිව්වද. මේ පුදුම සහගත දේවල් පින්වත්නි. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා සුනක්ඛත්ත මං මගේ හදවතින් පිරිසිඳ දැක්කා. මම දිවැසින් දුටුවා. දැන් අපිනෙ අභියෝග කරන්නෙ. වහපිය කට කියලා. එහෙම නෑ, බුදුරජාණන් වහන්සේ ඒ ධර්ම ධාතුව. නිකෙලෙස්. දැන් මේ වාගේ කතාවක් අපිත් එක්ක එහෙම කියාගෙන ආවා නම් වහපිය කට කියලා පටන් ගන්නෙ. ඉතින් භාග්‍යවතුන් වහන්සේ කියනවා සුනක්ඛත්ත ඔය නිරුවත් තාපසයා ඔය අදහසින් මං ළඟට ආවොත් හිස ගැලවෙනවා කියලා තථාගතයන් වහන්සේ සිතින් සිත දැක්කා. ඒ

විතරක් නෙවෙයි, දේවතාවොත් මට කියා තිටියා, ඔය පාථික පුත්‍රයා ඔය අදහසින් ආවොත් එහෙම පාථික පුත්‍රයා, භාග්‍යවතුන් වහන්සේ ඉදිරියට ආවොත් බෙල්ල ගැලවෙනවා කියලා. ඒ විතරක් නෙවෙයි සුනක්ඛත්ත, ළඟදින් අජිත නම් ලිච්ඡවි සෙන්පතියෙන් මියපරලොව ගියා. ඔහු ඉපදුනා තව්තිසා දිව්‍ය ලෝකෙ. ඊටපස්සෙ ඒ දෙවියා මං ළඟට ආවා. ඒ අජිත කියන දිව්‍ය පුත්‍රයා මං ළඟට ඇවිල්ලා කිව්වා ස්වාමීනී, මේ නිරුවත් පාථික පුත්‍රයා කිසි ලැජ්ජාවක් බයක් නැතිව තනිකර පච හල හලාම යනවා. මේකා තනිකර බොරුම කියනවා. මේ වජ්ජිපුත්‍ර ගමේ මේ මනුස්සයා කිව්වානෙ අජිත කියන ලිච්ඡවි සෙන්පතියා මැරිලා මහනිරයේ ඉපදිලා ඉන්නවා කියලා. ඒ කියන්නෙ අජිත කියන සෙන්පතියා ලිච්ඡවි පුත්‍ර සෙන්පතියා කියන්නෙ රජවරුන්ගේ යුද්ධ මෙහෙයවන සේනාවෙ අධිපතියානෙ. එතකොට මෙයා භාග්‍යවතුන් වහන්සේ සරණ ගියා. ඉතින් මෙයා පස්සෙ කාලෙක මැරුණා. මැරුණට පස්සෙ මේ පාථික මිනිස්සුන්ට කිව්වා මං කිව්වා ඔය ශ්‍රමණ භවත් ගෞතමයො ළඟට යන්න එපා කියලා. දෘෂ්ටිය වරද්දගෙන ශ්‍රමණ භවත් ගෞතමයො ළඟට ගිහිල්ලා මාව ඇත්හැරලා, ආන්න මැරුණට පස්සෙ මහා නිරයේ ඉන්නවා කිව්වා. දැන් එයා ඒක කියාගෙන යන්න ගියා. ඉතින් ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මං මැරුණට පස්සෙ ඉපදුනේ තව්තිසාවෙ කිව්වා. අජිත කියනවා. එතකොට ඒ කාලෙ සෙන්පතිවරු. යුද සෙන්පතියො පවා දෙව්ලොව කොච්චර ඉපදුනාද. ඊටපස්සෙ කියනවා නමුත් මේ මනුස්සයා මිනිස්සු මැද කිය කියා යන පච. ඉතින් ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස අපිට පේනවා කිව්වා දිවැසට, ඔය පාථික පුත්‍රයා භාග්‍යවතුන් වහන්සේ ඉදිරියට ආවොත් හිස ගැලවෙනවා. ඉතින් සුනක්ඛත්ත ඔන්න ඔය කාරණා ඔය විදියට තියෙනවා කිව්වා. ඔය අත්හරින්නැතිව ඔය අදහස මං ඉදිරියට එන්න බෑ කිව්වා. හැබැයි සුනක්ඛත්ත එහෙනම් මෙහෙමයි, අද හවසට මං පාථික පුත්‍රයාගේ ආරාමයට වඩිනවා. දැන් ඔහේට කාට හරි කියන්න ඕන නම් කැමැති අයට කියන්න කිව්වා. අම්මේ දැන් ඒ මොහොතෙ ඉඳලා සුනක්ඛත්තට වෙන වැඩ නෑ. සුනක්ඛත්ත එහෙන් රාජමාළිගාවට යනවා, එන්න, එන්න, එන්න. දැන් සුනක්ඛත්තට පුදුම ආසාවක් තියෙන්නෙ බුදුරජාණන් වහන්සේ පැරදෙනවා බලන්න. පුදුම ආසාවක්, රජ මාළිගාවෙ, දිව්වා රජ මාළිගාවට. රජවරුන්ට කිව්වා, හත්දහස් හත්සීය ගාණක් රජවරුනෙ. කිව්වා මෙහෙමයි අද යුද්ධයක් තියෙනවා භාග්‍යවතුන් වහන්සේගෙයි පාථික පුත්‍රයාගෙයි. භාග්‍යවතුන් වහන්සේ ඍද්ධියක් පානකොට පාථික පුත්‍රයා ඍද්ධි දෙකක් පානවා. අද තමයි සෙල්ලම කිව්වා.

ඊටපස්සෙ එහෙන් ගිහිල්ලා ඇමැතිවරුන්ට කිව්වා. ඊළඟට දැන් වතුර පොදක්වත් සුනක්ඛත්තට බොන්න වෙලාවක් නෑ. ඊටපස්සෙ එහෙන් බමුණු මහාසාරයන්ට කිව්වා. අන්‍යාගමික පරිබ්‍රාජකයන්ට කිව්වා. තාපසවරුන්ට, නිගණ්ඨයන්ට ගිහිල්ලා කිව්වා මෙහෙ වරෙල්ලා, වරෙල්ලා, අද තමයි වැඩේ කිව්වා. ඊටපස්සෙ මෙහෙම මෙහෙම හැම පැත්තෙන්ම මහා සේනාවක් පාථික පුත්‍රයාගේ ආරාමයට හවස් වෙනකොට එක්රොක් වුනා දහස් ගාණක්. විශාලා මහනුවර විශාල සෙනඟක්. මොකද, රජවරුම හත්දහස් හත්සීයක් ඉන්නවා. ඇමැතිවරු හත්දහස් හත්සීයක්, සෙන්පතිවරු හත්දහස් හත්සීයක්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ පිණ්ඩපාතෙන් වළඳලා හවස් කාලයේ දිවා විහරණය මුල් කරගෙන, පාථික පුත්‍රයාගේ ආරාමයට වැඩම කලා. දැන් සුනක්ඛත්තට දානෙත් නෑ, බඩ පිරිලා. ඊටපස්සෙ සුනක්ඛත්ත මොකද කලේ. අපි දැන් නිතර නිතර දේවදත්තයෙක් ගැන දන්නවා මිසක් මේ සුනක්ඛත්තයෙක් ගැන දන්නෙ නැනෙ. එකම කණ්ඩායමේ අය මේ. ඊටපස්සෙ දේවදත්ත ඍජුවම ඉඳලා විරුද්ධයි. දැන් සුනක්ඛත්ත බුදුරජාණන් වහන්සේගේ පිටිපස්සෙන් යන ගමන් මේ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ආරාමයට වැඩියා, ඊටපස්සෙ වැඩියට පස්සෙ භාගීව, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මේක ආරංචි වෙලා රාජ රාජ මහාමාත්‍යවරුන්ට, බ්‍රාහ්මණවරුන්ට, ගෘහපතිවරුන්ට දහස් ගණන් පිරිස හවස් කාලයේ පාථික පුත්‍රයාගේ ආරාමයේ පිරුණා කියනවා. ඒ අය කියනවා කියනවා ආයුෂ්මතුනි ඉදිරියට එව්. ආයුෂ්මත්වරුනි ඉදිරියට එව්. සොඳුරු ගති ඇති ශ්‍රමණයන්ගේ මනුස්ස ධර්මයට වඩා උසස් වූ ඍද්ධි ප්‍රාතිහාර්යයක් වන්නේය. අපි ඒවා බලන්න ඕන, යමල්ලා කියලා රාජ රාජ මහාමාත්‍යවරුන්ගේ ඉඳලා සියලු දෙනා ආරාමෙට ආවා කියනවා. ඊටපස්සෙ බ්‍රාහ්මණ මහාසාර වරු, ප්‍රසිද්ධ ලිච්ඡවි වරු, ගෘහපතිවරු, මිනිස්සු ඔක්කොම පිරුණා. ඊටපස්සෙ ආරංචි වුනා පාථික පුත්‍රයාට අර නිරුවත් තාපසයාට භාග්‍යවතුන්වහන්සේ තමන්ගේ ආරාමයට වැඩියා කියලා. ආරංචි වුනාට පස්සෙ එයා කල්පනා කලා අප්පේ භාග්‍යවතුන් වහන්සේ වැඩියාද කියලා බියට පත්වෙලා, සංවේගයට පත්වෙලා, ඇඟේ ලොම් කෙලින් වෙලා, මෙයාගේ තොලකට වේලිලා කරකියාගන්න දෙයක් නැතිව පිටිපස්සෙන් පැන්නා. පැනලා, තින්දුකඛාණු කියන පරිබ්‍රාජක ආරාමයට, ඒ ආරාමෙට මෙහාපැත්තෙ තියෙන අනිත් ආරාමෙට පැනලා හැංගුණා. ඊටපස්සෙ මිනිස්සු අතරින් එක්තරා පුරුෂයෙකුට, දැන් රාජ රාජමහාමාත්‍යවරු ඉන්නවානෙ, ඒ අය කිව්වා යන්න. ගිහිල්ලා ආරංචියි අපිට පාථික පුත්‍ර තාපසයා මේ නිරුවත් තාපසයා අල්ලපු

ආරාමෙ ඉන්නවා කියලා. ගිහිල්ලා කියන්න භාග්‍යවතුන් වහන්සේ ආරාමෙට වැඩලා. දැන් ඔහේම කිව්වානෙ භාග්‍යවතුන් වහන්සේ ඥාණවාදී, මමත් ඥාණවාදී. භාග්‍යවතුන් වහන්සේ එක්ක මම කතා කරන්න සුදුසු කෙනෙක්. පහළින් භාගයක් ආවොත් මමත් භාගයක් එනවා. උන්වහන්සේ එක ඍද්ධි ප්‍රාතිහාරයයක් පෑවොත් මම ප්‍රාතිහාර්ය දෙකක් පානවා කිය කියා ලොකු කතාවක් කිව්වනෙ. ගිහිල්ලා කියන්න ඔබ වහන්සේ භාගයක් එන්න ඕන නෑ, කෙලින්ම භාග්‍යවතුන් වහන්සේ ආරාමෙට වැඩලා ඉන්නෙ. භාග කතාවක් නෑ ඉතුරු පොඩ්ඩ මේ ආරාමෙන් පැනලා ඉස්සරහට වරෙන් කියලා පොඩ්ඩක් කතා කරලා ගෙන්නගෙන එන්න කිව්වා. දැන් මිනිස්සුම කියනවා එක්තරා මනුස්සයෙකුට, ඒ මනුස්සයා ආරාමෙට යනකොට එහෙත් ඉන්නවා අයිනකට වෙලා ආසනේක ඉඳගෙන ඉන්නවා පාථික පුත්‍රයා. ගිහිල්ලා කිව්වා ඔබ වහන්සේට පණිවිඩයක් කියන්න ආවෙ. භාග්‍යවතුන් වහන්සේ ආරාමෙට වැඩලා ඉන්නවා. දැන් ඔහේ කිව්වානෙ ඍද්ධි ප්‍රාතිහාර්ය පානවා මෙහෙමයි එකට දෙක්ක පානවා කියලා. පාරෙන් භාගයක් යන්න ඕනත් නෑ ආරාමෙට ඇවිල්ලා ඉන්නෙ කියලා. ඊටපස්සෙ මෙහෙම කිව්වට පස්සෙ එමි ඇවැත්නි. මේ එනවා මේ එනවා කියලා කියනවා නැගිට ගන්න බෑ, ආසනේට ඇලිලා. ඊටපස්සෙ අර පුරුෂයා කියනවා ඈ බොල ඔහේට මක් වුනාද, ඔහේගේ සට්ටම් දෙක දැන් පුටුවට ඇලිලද. පුටුව තට්ටම් දෙකට ඇලිලද, මේ එනවා මේ එනවා කියනවා නැගිටගන්න බැනෙ ඔහේට. ඊටපස්සෙ අරයා කියනවා නෑ මේ එනවා මේ එනවා කියනවා එච්චරයි. ඉතින් හිටියා හිටියා හරියන්නෑ අර පුරුෂයා ඇවිල්ලා මිනිස්සු මැද කියා හිටියා, හරි වැඩේ මෙයා පැරදී ගිය ස්වභාවයෙන් පාථික පුත්‍රයා මම එනවා මම එනවා කිය කියාම ඉන්නවා පුටුවෙන් නැගිටගන්න බෑ කියලා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ මෙහෙම කිව්වා. පිරිසට මෙහෙම කිව්වා කියනවා. ඒ තමයි ඔය නිරුවත් පාථික පුත්‍රයාට භාග්‍යවතුන් වහන්සේට අභියෝග කරපු හිතින් බුදුරජාණන් වහන්සේ ගාවට එන්න බෑ. ඔය හිත අත්හරින්නැතිව, සිතිවිල්ලක්වත් නැතිව. දැන් මං හිතනවා ගොඩාක් දුරට මහමෙව්නානෙව් පිරිසිදු ශ්‍රී සද්ධර්මය දේශනා කරනකොට ගොඩාක් මහමෙව්නාවට කරදර, කම්කටොලු ආවනෙ. මහමෙව්නාවට ගොඩක් අය දෝෂාරෝපණය කලානෙ. මං හිතනවා දැන් වුනත් ඒ මිනිස්සුන්ට පස්සෙ ඇත්ත තේරුණා. මිනිස්සුන් දැන් එන්න ලැජ්ජාව තියෙන්නෙ. ගොඩාක් වගකිවයුතු අයට නායකයන්ට ගොඩක් අයට තියෙනවා, ඒ විශාරද බව නෑ. බුදු කෙනෙක්ගේ ළගට නම් බුදු කෙනෙකුට චෝදනා කරන අදහසින් කිට්ටු වෙන්න

බෑ, මේ අදහසින් ඍද්ධි ප්‍රාතිහාර්ය එකක් පෑවොත් දෙකක් පානවා කියලානෙ පාථිකගේ අදහස. ඊටපස්සෙ එතකොට එහෙම කියනකොට බුදුරජාණන් වහන්සේ ඉදිරියේ ලිච්ඡවි මහාමාත්‍යයෙක් නැගී හිටියා. නැගිටලා කිව්වා භාග්‍යවතුන් වහන්ස මං ගිහිල්ලා ගෙන්නගෙන එන්නම්. කියලා ඒ ඇමතිවරයා මහඇමැති කෙනෙක්නෙ. ගිහිල්ලා කිව්වා අන්න භාග්‍යවතුන් වහන්සේ වැඩලා ඉන්නවා ඔහේ නැගිටින්න, නැගිටලා ඇවිල්ලා උන්වහන්සේත් එක්ක කතා කරන්න. ඊටපස්සෙ මෙයා කියනවා මේ එනවා මේ එනවා කියලා ඔහේ එයාට නැගිටගන්න බෑ, පුටුවට ඇලිලා. අහනවා මේ අමාත්‍යවරයා, මොකද වුනේ ඔහේගෙ තට්ටම් දෙක ඇලුනද පොළොවට. පුටුව ඇලිලද තට්ටම් දෙක කියලා ඇහුවා. මේ එනවා, මේ එනවා කියනවා එච්චරයි. මහාමාත්‍යවරයාත් පිරිසට ඇවිල්ලා, ඇවිත් දහස් ගණන් පිරිසනෙ. ඇවිල්ලා කිව්වා මේ මනුස්සයා නැගිටින් නෑ කියලා. භාග්‍යවතුන් වහන්සේ දේශනා කලා පින්වත්නි ඔය අදහසින් ඉන්න බෑ, ඔබට හිතුනොත් එහෙම ලණුවක් ගැටගහගෙන ඇදගෙන එනවා නම්, ලණුව කැඩෙයි, එක්කො ඔය බෙල්ල කැඩෙයි කිව්වා. ඔය මනුෂ්‍යයන්ගේ ඔය අදහස තියෙද්දිත්. එතකොට එතන හිටියා. ඒක තාපසයෙක්ගේ ධාරෝප්පත්තික තාපසයාගේ අතවැසියෙක් ජාලිය කියලා. ඒ ජාලිය කිව්වා මම ගිහිල්ලා ගෙන්නගෙන එන්නම් කියලා ගිහිල්ලා තුවාල වෙලා අන්න භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්නවා ආරාමෙ. යම් මේ එනවා මේ එනවා කියනවා පුටුවට ඇලිලා, ගල් ආසනය කැඩිලා පාථික. ඊටපස්සෙ මොකද කලේ මෙයා කියනවා ජාලිය, එම්බා පාථික. ඔහේ දැන් මහාලොකුවට කිව්වානෙ. කියලා දැන් නැගිටගන්න බැරිව ඉන්නවානෙ. ඊටපස්සෙ කියනවා මේක ඉස්සර වෙච්චි දෙයක්. සිව්පාවුන්ගේ රජ වූ සිංහයාට මෙහෙම අදහසක් ඇතිවුනා. මම දැන් එළියට ගිහිල්ලා මම දැන් වනලැහැබක ඉන්න ඕන. වන ලැහැබේ මම හවස්කාලයේ නැගිටලා ඇඟ පොඩ්ඩක් හැර කේශර හොලවලා ඊටපස්සෙ ගිහිල්ලා තුන් පාරක් සිංහනාද කරලා මුව රංචුවක් මැද්දට ගොදුරකට පැනලා, හොඳම මුවෙක් අල්ලගෙන මෘදු මාංශ අනුභව කරලා මං යැපෙන්න ඕන කියලා හිතලා මෙයා මොකද කරන්නෙ, ඒ විදියටම කරනවා. වන ලැහැබක වාසය කරනවා. ඊටපස්සෙ එක්තරා වනලැහැබක වාසය කරලා, සවස් කාලයේ එතැනින් නික්මිලා, ඇඟේ ලොම් ගසාදාලා, සිංහනාද කරලා, මුවන් රංචුවක් මැද්දට පැනලා මුවෙක් භක්ෂණය කරලා, ආපහු තමන් ළඟින තැනට ගිහිල්ලා සිංහයා වාසය කරනවා. ඊටපස්සෙ මේ සිංහයා කන මස්වල ඉතුරුවෙච්ච ටික කනවා, හිවලෙක්. ඒ නරියා ඒවා ටික

කාලා කාලා මේකා තරවුනා. මේකා මොකද කලේ, වතුර ටිකක් බොන්න ගිය වෙලාවේ වතුර ටිකෙන් තමන්ගෙ ඇඟ දැක්කා. හැඩි දැඩිව හැදිලා හිවලා මස් කාලා. ඒකා කල්පනා කරනවා මමත් එක්තරා වනලැහැබක වාසය කරනවා. වනලැහැබෙන් මිදී සොළවනවා. මමත් සිංහ නාද කරනවා නම්, මමත් සිංහනාද කරලා මුවන් රංචුවක් මැද්දට පැනලා, හොඳ මුවෙක් ඩැහැගන්නවා කියලා කිව්වා, දැන් හිතුවා. මේ නරියා මේක හිතලා ගිහිල්ලා මෙයත් කැලේක ඉඳලා එළියට ඇවිල්ලා හයියෙන් සිංහනාද කරනකොට නරිහඬම නිකුත් වෙන්න ගත්තා. මේකගෙන් නරි හඬ යනකොට අනිත් නරියොත් කෑගහන්න ගත්තා. ඒ වගේ අනිත් අයගෙන් ලැබෙන පිණ්ඩපාතෙ සුදුසු බුදුවරුන්ට කිව්වා. බුදුවරුන්ට ලැබෙන්න ඕන දේවල් ඔහේ කෑවා කිව්වා. නරියෙක් වගේ කාලා බුදුවරුන් හැප්පෙන්න හිතුවද කියලා ඇහුවා. බුදුවරුත් එක්ක හැප්පෙන්න ඕන කියලා මහලොකුවට කියාගෙන ගිහිල්ලා දැන් නරිහඬම නිකුත් කරනවා නේද. කිව්වා, සැරටම කිව්වා. ඒත් අර මනුස්සයට නැගිටගන්න බෑ. ඊටපස්සෙ මේ විදියට සංවේගයට පත් කරලාවත් පාඨිකව නැගිට්ටගන්න බෑ, ඊටපස්සෙ නොයෙක් ගාථාවන්ගෙන් ජාලිය මෙයාව නැගිට්ටවන්න හැදුවා, නැගිට්ටවන්න බෑ. ඊටපස්සෙ නරියාගෙ නරි හඬ ගැන නැවත නැවත කියනවා. ඒත් නැගිට්ටවගන්න බෑ. දාරුප්පත්තික අතවැසියා මේ උපමාවෙන් නිරුවත් තාපසයා නැගිට්ටවගන්න බැරිව අවසානෙ කියනවා සිංහ ව්‍යාඝ්‍රයන්ගෙන් හිස් වූ මහ වනයේ මැඩියන්ද, ළිං වල සිටින මීයන් ද, සොහොනේ දැමූ මළකුණු ද කා තරව ගිය නරියෙක් මම සිව්පාවන්ගේ රජ සිංහයා කියලා හිතාගෙන සිංහ හඬ නගනවා කියලා නරි හඬ නැගුවා. නීච හිවල් හඬ මොකක්ද, සිංහ හඬ මොකක්ද කියලා මෙයාව සංවේගයට පත් කරලා එතනින් ඇවිල්ලා බුදුවරුන්ට හිරිහැර කරන්න ගියා කියලා පිරිස මැද කරුණු කාරණා කියනවා ඇවිල්ලා. ඉතින් පැරදී ගිය ස්වභාවයෙන්ම පාඨික ඒ ගලට නැගලා හිටියා කියනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ අර පිරිසට මේ කරුණු කාරණා යම් දැනුවත් කරලා බුදුරජාණන් වහන්සේ ඊටපස්සෙ මොකද කරන්නෙ, අර දහස් ගණන් පිරිස ඇවිල්ලානෙ. ඉක්බිති භාගීවයෙනි, මම ඒ පිරිසට ධර්ම කතාවෙන් කරුණු දැක්වූයෙමි, සමාදන් කරවූයෙමි, උනන්දු කරවූයෙමි, සතුටු කළෙමි. ඒ පිරිසට ධර්ම කතාවෙන් කරුණු දක්වා සමාදන් කරවා, උනන්දු කරවා, සතුටු කරවා මහා සසර බන්ධනයෙන් නිදහස් කොට අසූහාරදහසක් ප්‍රාණීන් කෙලෙස් සැඩ පහරින් එගොඩ කරවා තේජෝ ධාතුවට සමවැදී තල් ගස් හතක් පමණ උසට අහසට පැන නැගී අන්‍ය වූ තල් ගස් හතක් පමණ උසට විහිදෙන ලෙසින් ගිනි

දැල් මවා දිලිහී දුම් විහිදුවා මහා වනයේ කූටාගාර ශාලාවේ පිහිටියෙමි. පුදුම සහගතයි. අර ඍද්ධි ප්‍රාතිහාර්ය බලන්න ආපු මිනිස්සු දහස් ගණන්, ඒ සියලු දෙනාටම බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කලා, දෙවියන් මිනිසුන් සියලු දෙනාට. ඒ මිනිස්සු අතරින් අසූහාරදාහක් දෙනා මාර්ග ඵල ලැබුවා. බුදුරජාණන් වහන්සේ තල් ගස් හතක් පමණ අහසට පැන නැගිලා තවත් තල් ගස් හතක් පමණ වූ වට ප්‍රමාණයට විහිදෙන්න ගිනි දැල් විහිදවලා දුම් වලාවක් මතු කරලා ඒ දුම් වලාවෙන් අතුරුදහන් වෙලා කූටාගාර ශාලාවට වැඩම කලා. පුදුම සහගතයි. සුනක්ඛත්තයා එනවා හිමීට හවස් වෙනකොට. බුදුරජාණන් වහන්සේ දේශනාකලා මම කියපු දේ ඒ විදියටම වුනාද නැද්ද, වුනා කිව්වා. මං ඍද්ධි ප්‍රාතිහාර්ය පෑවද නැද්ද, පෑවා කිව්වා. හිස් පුරුෂයෝ එහෙම කියද්දිනුත් ඔහේ මං ඍද්ධි ප්‍රාතිහාර්ය පාන් නෑ සිවුරු හැරලා යනවා කියලා කතාවක් කියනවා නේද කිව්වා. බලන්න බුදු කෙනෙක් ළඟට වැඳගෙන කැරකි කැරකි ළඟට ආවත් දෘෂ්ටිය වැරදිලා නම් හිස් පුරුෂයා. හිස් පුරුෂයො. ඉතින් ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා භාගීව, ඔය විදියට මම සුනක්ඛත්ත ලිච්ඡවි පුත්‍රයාට කරුණු කියද්දිනුත් අපායට නියමු වූ කෙනෙක් වගේ, ඊළඟට අපායටම වෙන් වෙච්චි කෙනෙක් වගේ මේ ශාසනයෙන් බැහැර වෙලා ගියානෙ. එහෙනම් මෙච්චර පිරිසිදු ශ්‍රී සද්ධර්මයක් දේශනා කරද්දිත් පිරිසිදු ධර්මයක් තියෙද්දිත් හොඳ ගුරුවරු ඉදිද්දිත් මේ ශාසනය බැහැර කරලා යන අය ගැන අපි මොනවා නම් කියන්න ද. මොකක් කරන්න ද. මේ බුදුවරුන් කරුණු කියද්දින් තමන්ගේ ජීවිතේ හිස් නම් ඒ අය වළක්වන්න අමාරුයි. අනිත් එක තව ඉදිරියට තියෙනවා, ඇයි සුනක්ඛත්ත කිව්වනෙ ලෝකය හටගත්ත හැටි මට කිව්වෙ නෑ කියලා. බුදුරජාණන් වහන්සේ ඊළඟට විස්තර කරනවා ලෝකය හටගත්ත හැටි. ඒ නිසා අපි ඒ කාරණාව ඊළඟ දවසට කියලා දෙන්න කල්පනා කලා. මේ සූත්‍රය තව ලස්සනයි. අපූරු විස්තරයක් ඊළඟ කොටසේ තියෙනවා. එතකොට දැන් මේ කරුණු කාරණා ඇසුරින් තේරුම් ගන්න ඒ කාලෙ බුදුරජාණන් වහන්සේ ඉදිරියට ඇවිල්ලා සිවුරු දාගත්ත අයම කරපු අභියෝග. තාපසවරු කරපු අභියෝග. ඒවා ඉදිරියේ භාග්‍යවතුන් වහන්සේ අකම්පිතව මූණ දුන් හැටි. අපගේ ශාස්තෘන් වහන්සේ ඒකාන්තයෙන් ආනුභාවසම්පන්නයි. අපගේ ශාස්තෘන් වහන්සේ ඒකාන්තයෙන් විශාරදයි. අපගේ ශාස්තෘන් වහන්සේ ඒකාන්තයෙන් සිංහනාද පවත්වන උත්තමයන් වහන්සේ. බලන්න ඍද්ධි ප්‍රාතිහාර්යන් පාන්න අයට අමා මහ නිවනද ලබාදුන්නා. ඔවුන්ගේ නේත්‍ර වලට ඍද්ධිය ද පෙන්නුවා. තල් ගස් හතක් පමණ

වූ ආකාශයට පැන නැගී ගිනි ජාලා විහිදවලා දුම් වළාවකින් අතුරුදහන් වෙලා ගියා. පුදුම සහගතයි. ඒ නිසා ඒ කාලෙ බුදුරජාණන් වහන්සේට විරුද්ධව පැන නැගුණ එක එක අභියෝගත් මිනිස්සුන්ට යහපත පිණිසම හේතුවුනා. බුදුකෙනෙක් වැඩ හිටපු නිසා. ඒවා දැක දැකත් මේ සුනක්ඛත්තයා කියපු දේවල්. ඉතින් මට කල්පනා වුනේ සමහර වෙලාවට මහමෙව්නාවෙ වුනත් පැවිදි වෙලා ඊටපස්සෙ කාලයක් යනකොට මේ මහමෙව්නාව හරියන්නෑ කියලා ඔහේ කොහෙහරි කැලෑවකට හරි කොහෙහරි තනියෙන් ඉන්න යනවා. ඉතින් ඊටපස්සෙ මහමෙව්නාවෙ දොස්ම කියනවා. නමුත් කරුණු කාරණා ඇත්තටම බලනකොට හොද ගුරුවරයෙක් ඉන්නවා. පිරිසිදු ධර්මය ඇහෙනවා. ඊළඟට පිරිසිදු ගුරු අනුශාසනා ලැබෙනවා. ඊළඟට සිව්පසයෙන් සංඝයාට ඉන්න පහසුව සැලසිලා තියෙනවා. මේ හැම දෙයක්ම තියෙද්දිත් බැහැර වෙලා යන එක ගැන තම තමනුත් තේරුම් ගන්න ඕන. මේ බුද්ධ කාලෙ බුදුරජාණන් වහන්සේට චෝදනා කර කර ගියානෙ. එතකොට මේ සියල්ල ඉදිරියේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් අකම්පිතව මුහුණ දුන්නු හැටි බලන්න. භාග්‍යවතුන් වහන්සේගේ ඍද්ධි ප්‍රාතිහාර්ය ඥාණය බලන්න. භාග්‍යවතුන් වහන්සේගේ අන් අයගේ සිත් බැලීමේ ඥාණය දිහා බලන්න. මේ කාරණාවේ තියෙනවා භාග්‍යවතුන් වහන්සේගේ ඍද්ධි ප්‍රාතිහාර්ය මේ ආකාසෙට පැන නැගී කරපු. මේ සූත්‍රයේ තියෙනවා බුදුරජාණන් වහන්සේගේ ආදේශනා ප්‍රාතිහාර්ය, අනිත් අයගේ සිත බැලීම. මේ දේශනාවෙ තියෙනවා බුදුරජාණන් වහන්සේගේ අවවාද ප්‍රාතිහාර්ය. ඕවාද ප්‍රාතිහාර්ය. ඒ නිසා නේද ඒ දහම් අවවාද වලින් අර පැමිණ සිටපු පිරිස අතරින් අසූ හාරදාහක් මගඵල ලැබුවේ. බුද්ධ කාලෙ හරී පුදුමයි. මහා පින්වන්තයන්ට ධර්මය අවබෝධ වෙන තැන් දැක්කද. ප්ලෑන් කරලා වෙනම ගිහිල්ලා සැදී පැහැදී ඉඳලද ධර්මය අවබෝධ වුනේ. මේ වාද විවාද එක එක දේවල් බලන්න ගිය තැන බුදු කෙනෙක්ගේ ධර්මය අහලා ඔවුන්ගේ සිත් වෙනස් වුනේ. පුදුම සහගතයි. අද කාලෙ මොකද වෙන්නෙ. අද කාලෙ සැදී පැහැදී යනවා ධර්මය අවබෝධ කරන්න. නමුත් පිරිසිදු දේ හිත් වලට එන්නෙ නෑ. ඉතින් ඒ නිසා මේ කරුණු කාරණා තේරුම් ගන්න. භාග්‍යවතුන් වහන්සේම සරණ යන්න. ශ්‍රී සද්ධර්මයම සරණ යන්න. ආර්ය මහා සංඝරත්නයම සරණ යන්න. හොදට හිතට ගන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම ආර්ය මහා සංඝරත්නය සරණ

යනවා කියලා හිතන්න. මේ උතුම් පිරිසිදු දහමින් ඔබ සුවපත් වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා.

අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහනට දායකත්වය දරමින් ඒ දායකත්වය දැරූ දියණිය අපි මුලින් සඳහන් කළ පරිදි බලාපොරොත්තු වෙන්නෙ පරම පූජනීය ගුරු දේවෝත්තම ලොකු ස්වාමීන් වහන්සේ උදෙසාම මේ පුණ්‍යානුමෝදනාව සිද්ධ කිරීම. ඉතින් අද මේ උතුම් ධර්ම දානයෙන් සුන්දර පාථික සූත්‍ර දේශනාවේ ඒ දහම් කරුණු ශ්‍රවණය කිරීමෙන් තුණුරුවන්ට පැහැදීමෙන් රැස් වුනු පින පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට අනුමෝදන් වේවා, අනුමෝදන් වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා කියලා පින් අනුමෝදන් කරමු. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී පරම පූජනීය ගුරු දෙවිඳුන් ඇතුළු කළණ මිතුරු සඟරුවන ඔබ සියලු දෙනා ආරක්ෂා කරත්වා. මියපරලොව ගිය සියලූම ඥාතීන් මේ පින් අනුමෝදන් වී පරලොව සැපයට පත්වේවා. පරමපූජනීය ගුරු දෙවිඳුන් ඇතුලු සියලු ස්වාමීන් වහන්සේලාට, සකල සඟරුවනට, අනගාරිකා මෑණිවරුන්ට, මේ පින් බලයෙන් ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම කෙළෙහිගුණදත් මේ පින්වත් දියණිය ඇතුළු සියලුම දෙනාටත්, ඒ පවුල්වල සියලු දෙනාටත්, ඔබ සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වේවා. මේ පින් බලයෙන් ඔබ අප කාටත් ගෞතම බුද්ධ ශාසනයේ උතුම් සම්බුදු සරණ තුළ සැනසී බුදුරජාණන් වහන්සේගේ ශාසනික පිහිට ලබාගන්න වාසනාව ලැබේවා කියලා පින් පමුණුවනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=MWP1ffYHrPs&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=63

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාධූ සාධූ සාධූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාධූ සාධූ සාධූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර ඉගෙනුම ලබන පින්වත් අමන්ත ප්‍රියනාත්, තමරු ජයලත්, රනිඳු තිවංක, භානුක අනුරාධ, සනිත් ප්‍රනාන්දු ඒ වගේම සචින්තා ජයලත්, සජිත් දිලීප, සහන් රණසිංහ, අසංක හෙට්ටිආරච්චි සහ රනිත් ගමගේ යන කළ්‍යාණ මිත්‍ර සමූහය එකතුවෙලා. මේ දරුවන්ගේ මේ පින්වතුන්ගේ අදහස බවට පත්වෙලා තිබෙන්නේ අපිට මේ උතුම් ධර්මය දායාද කල අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේට කෘතගුණ දැක්වීමේලා මේ ධර්මදානය සිද්ධ කරන්න. ගෞතම බුද්ධ ශාසනය මේ ලෝකෙටම අද දවසේ දායාද වුනේ අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේ නිසා. ඒ නිසා මිහිඳු මහරහතන් වහන්සේගේ පා කමල් අභියස, අද දවසේ ධර්ම දේශනා පින, විශේෂයෙන් මා ධර්ම දේශනා කරන පිනත්, ඒ වගේම මේ දරුවන් ධර්ම දානයෙන් රැස් කරගන්න පිනත්, ඔබ ධර්ම ශ්‍රවණය කරන පිනත් අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේට උපහාර පූජාවක් වේවා කියන අදහසින් අද දවසේ ධර්ම දේශනාව සිද්ධ කරන්නෙ. මීට කලින් දහම් වැඩසටහනේ අපි ඉගෙන ගත්තා පාථික සූත්‍රයේ මේ සුනක්ඛත්ත ලිච්ඡවී පුත්‍රයා බුදුරජාණන් වහන්සේ ළඟ පැහැදිලා මේ බුද්ධ ශාසනයේ ඔහු විසින් ඇති කරන ලද නොයෙක් අර්බුද. බුදුරජාණන් වහන්සේව ප්‍රතික්ෂේප කරලා ඔහු පස්සෙ කාලෙ සිවුර අතහැරලා ගිහියෙක් බවට පත්වුනා. ඒ ගිහියෙක් බවට පත්වෙන්න කලින් සුනක්ඛත්ත කියාහිටියා බුදුරජාණන් වහන්සේගෙන් තමන් අයින් වෙන්න හේතු. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ කාලේ භාගීව කියන පිරිවැජියාගේ ආරාමයට ගොඩවුනා. ගොඩවෙලා, ඒ වෙලාවෙ තමයි භාගීව කියන මේ පිරිවැජියා බුදුරජාණන් වහන්සේට කියා හිටියෙ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මට ටික කාලෙකට කලින් සුනක්ඛත්ත මුණගැහුනා. සුනක්ඛත්ත කියා හිටියා මං බුදුරජාණන් වහන්සේව ප්‍රතික්ෂේප කරලා ඉන්නෙ. මං බුදුරජාණන් වහන්සේ එක්ක ගණුදෙනුවක් නෑ කියලා. ඉතින් භාග්‍යවතුන් වහන්ස ඔය කතාව

ඇත්තක්ද, භාගීව ඔය කතාව ඇත්ත. සුනක්ඛත්ත මා ළඟටත් පැමිණ කියාහිටියා මං ඔබව ප්‍රතික්ෂේප කරනවා කියලා. ඊටපස්සෙ මං සුනක්ඛත්තගෙන් ඇහුවා ඔබ මං ගාවට එනකොට මං කිව්වද, ආ එන්න සුනක්ඛත්ත මා ළඟම ඉන්න, මාව අතහැරලා යන්න එපා, එහෙම කිව්වද? නෑ. සුනක්ඛත්ත ඇවිල්ලා මාත් එක්ක කිව්වද මං ඉන්නවා, මං ඔබ වහන්සේ අත්හැරලා යන්නෙ නෑ කියලා මෙහෙම කතා කරගත්ත ගණුදෙනු තියෙනවාද. අනේ නෑ. එහෙනම් හිස් පුරුෂයෝ මොකක්ද මේ කියන්නෙ. මා ඔබව ප්‍රතික්ෂේප කරලා යනවා කියලා. ඊටපස්සෙ කියනවා භාග්‍යවතුන් වහන්සේ මට ඍද්ධි ප්‍රාතිහාර්ය පෙන්නන් නෑනෙ කියලා. ඊටපස්සේ බුදුරජාණන් වහන්සේ අහනවා මං ඔහේට කිව්වද එන්න මා ළඟට, මං ඍද්ධි ප්‍රාතිහාර්ය පෙන්වන්නම්, ඊටපස්සෙ ඔහේ කිව්වද මං ඔබ වහන්සේ ළඟට ඇවිල්ලා මහණ වෙන්නෙ ඍද්ධි ප්‍රාතිහාර්ය පෙන්නුවොත් කියලා. අනේ නෑ ස්වාමීනී කිව්වා. එහෙනම් හිස් පුරුෂයෝ මොකක්ද මේ කියන කතාවෙ තේරුම. කියනවා සුනක්ඛත්ත ඍද්ධි ප්‍රාතිහාර්ය පෙන්නුවා හෝ නැතා හෝ මේ කියලා තියෙන ධර්මයට අනුව ප්‍රතිපත්තියේ යෙදුනොත් කෙලෙස් ගෙවෙන් නැද්ද, සංසාර දුක් ගිනි නිවෙන් නැද්ද කියලා ඇහුවා. ස්වාමීනී ඒක එහෙම වෙනවා. එහෙනම් මොකටද හිස් පුරුෂයෝ මේවා හොයන්නෙ කියලා ඇහුවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා භාගීව ඔය විදියට කරුණු කියද්දිනුත් මෙයා සිවුරු ඇරලා ගියා කිව්වා. දැන් ඔබවහන්සේ මට ලෝකයේ හටගැනීම ගැන, ලෝක උත්පත්ති වංශකතාව කියන්නෑ, ඉතින් සුනක්ඛත්ත ඔහේ මං ගාව මහණවෙනකොට කිව්වද ඔබවහන්සේ ළඟ මං මහණ වෙන්නෙ ලෝක උත්පත්ති කතාව අහන්නයි. මමත් කිව්වද එන්න මං ළඟ මහණ වෙන්නෙ මං ලෝක උත්පත්ති කතාව කියලා දෙන්නම් කියලා කිව්වද. අනේ නෑ ස්වාමීනී. එහෙනම් කවුරු කවුරු විසින්ද ඔය ප්‍රතික්ෂේප කරන්නෙ කියලා ඇහුවා. ඊටපස්සෙ මේ විදියට කරුණු කියද්දි බුදුරජාණන් වහන්සේ ඇහුවා ලෝකයේ වංශ කතාව දැනගත්තා හෝ නැතා හෝ මේ කියලා තියෙන ධර්මයට අනුව ප්‍රතිපදාවේ යෙදුනොත් කෙලෙස් ගිනි නිවාගන්න බැරිද. පුලුවන් කියලා කිව්වා. ඉතින් එහෙනම් එහෙම තියෙද්දින් කුමක්ද මේ සොයන්නේ කියලා ඇහුවා. ඉතින් බුදුරජාණන් වහන්සේ නොයෙක් ආකාරයෙන් කරුණු කියද්දිනුත් සුනක්ඛත්ත සිවුරු ඇරලා ගියා. ඉතින් බුදුරජාණන් වහන්සේ අර භාගීව තාපසතුමාට කියනවා, තාපසය මං ඔය සුනක්ඛත්තට මේ මේ අවස්ථාවලදී ඍද්ධි ප්‍රාතිහාර්ය පෙන්නලා තියෙනවා කියලා බුදුරජාණන් වහන්සේ අවස්ථා

කීපයක් කියාහිටිනවා. එකක් බුදුරජාණන් වහන්සේ කලාරමුට්ඨක කියලා තාපසයෙක් ව්‍රත පද හතක් සමාදන් වෙලා ඉන්නකොට ඔහු සිවුරු හැරලා මැරිලා යන විස්තර ටික කියනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ කෝරක්කත්තිය දවස් හතකින් මැරිලා උපදින ලෝක ගැන විස්තර කියනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේට අභියෝග කරපු පාථික, ඒ පාථිකට ඒ අදහසින් බුදුරජාණන් වහන්සේ ඉදිරියට පැමිණිය නොහැකි බව ඒ විස්තර සුනක්ඛත්තට කියනවා. ඉතින් අවසානයේ පාථික බුදුරජාණන් වහන්සේ ඉදිරියට එන්න බැරිව ඒ තමන් ඉඳගෙන ඉන්න ආසනයටම ඇලිලා ඉන්නවා. මම ගිය කලින් වැඩසටහනේ අපි කතා කරපු කරුණු ටිකක් සිහිපත් කරනවා මේ. එතකොට පින්වත්නි භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ විස්තර කරලා අවසානයේ පාථික පිරිවැජියාගේ ආරාමයට පැමිණි දහස් ගණන් පිරිස බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහලා මගඵල ලබනවා, අසූහාරදාහක්. බුදුරජාණන් වහන්සේ ඒ මොහොතේ ආකාසයට පැන නැගිලා තල් ගස් හතක් තරම් ආකාසෙට පැන නැගිලා තල් ගස් හතක් තරම් ආකාසයේ තේජෝ ධාතුවට සම වැදිලා ගින්දර ශරීරයෙන් පිට කරමින් ප්‍රාතිහාර්ය පානවා. ඊටපස්සෙ මවන ලද වළාකුලකින් නොපෙනී ගොස් කූටාගාරයේ පහළ වෙනවා. දැන් හවස් වෙනකොට සුනක්ඛත්ත එනවා. ඇවිල්ලා බුදුරජාණන් වහන්සේට වැඳලා පසෙකින් ඉන්නවා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මං කියපු ඒවා ඒ විදියටම වුනේ නැද්ද. එහෙම නම් මං ඔය කරපු දේ ඍද්ධියක් නෙවෙයිද, ඍද්ධියක් කිව්වා. එහෙනම් හිස් පුරුෂයො මොකටද මේ කතාවක් කිය කියා යන්නෙ භාග්‍යවතුන් වහන්සේ මට ඍද්ධි ප්‍රාතිහාර්ය පෙන්නුවේ නැත කියලා. දැන් බුදුරජාණන් වහන්සේ භාග්ගීවට කියනවා, භාග්ගීව ඔය විදියට කරුණු දක්වද්දිනුත් මේ ලිච්ඡවී පුත්‍ර සුනක්ඛත්ත සිවුරු ඇරලා ගියා කිව්වා. අපායට නියම වූ අපායට යන්න සුදුසු වූ කෙනෙක් අපායට යන්න සුදුසුකම් හදාගන්නවා වගේම කසාවත අත්හැරලා ගියා කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඔය විදියට විස්තර කරලා ඊළඟට විස්තර කරනවා පාථික සූත්‍රයේ භාග්ගීව මම ලෝක උත්පත්තිය ලෝකයේ සකස්වීම පිළිබඳව මතවාද දන්නවා. ඊටපස්සෙ ඒවා මම දන්නවා දකිනවා එතනින් එහා ඒ මතවාද ඇතිවෙන්න හේතුව සහ එයාලා දකින දේවල් වලිනුත් එහා දේවලුත් මම දකිනවා. එහෙම දැනගත්තට මම ඒ මතවාද ග්‍රහණය කරගෙන නෑ, කෙලෙසුන්ගෙන් නිදහස් වෙලා නිවුණු සිතකින් මං ඒවා දන්නෙ දකින්නෙ. ඒ නිසා තථාගතයන් වහන්සේ නිවිලා ඉන්නෙ. ලෝකයේ කිසිම දේකින් භාග්‍යවතුන් වහන්සේ කරදරයකට,

පීඩාවකට, අපහසුවකට පත්වෙන් නෑ. දැන් තේරෙනවා ලෝකෙ අනිත් අය මතවාද කරුණු දැනගත්තට පස්සෙ ඒකෙන් පීඩාවට පත්වෙනවා. දැන් බලන්න මොනවාහරි මතවාදයක් හදාගන්නවා බුදුන් උපන්නෙ ලංකාවෙ කියලා හෝ රාවණ කතාව හෝ මොකක්හරි. ඊටපස්සෙ ඒ මතවාද දෘෂ්ටිය ගත්තු අය ඒක මුල් කරගෙන කොච්චර පීඩාවට කරදරයට පත්වෙනවද කියලා බලන්න. ඒක සනාථ කරන්න, ඒකට කරුණු හොයන්න, ඒවා ඉස්මතු කරන්න, ඊළඟට ඒවට විරුද්ධව නැගීගෙන එන අදහස් යට යවන්න, කොච්චර වෙහෙසක් ද. බුදුරජාණන් වහන්සේ මේ ලෝකෙ තියෙන මතවාද, දෘෂ්ටි දැනගත්තත් බුදුරජාණන් වහන්සේට ඒකෙන් කරදරයක් පීඩාවක් නෑ. බුදුරජාණන් වහන්සේ ඒ සියල්ලගෙන්ම නිවී සැනසී වැඩ සිටිනවා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පින්වත් භාග්ගීව මේ ලෝකයේ මතවාද හටගන්න විදිය දේශනා කරනවා. කොහොමද හටගන්නෙ, භාග්ගීව මේ ඇතැම් අය, ලෝකෙ තියෙන මතවාදයක් තමයි මේ ලෝක වංශ කතාවෙ, මේ ලෝකය නැත්නම් මේ සත්ත්වයා බ්‍රහ්මයෙක් විසින් මැව්වා කියලා. මැවුම්කාරවාදය. ලෝකමාපක. ලෝකය මවපු කෙනෙක් ඉන්නවා කියලා. ඊටපස්සෙ මම එයාලා ළඟට ගිහිල්ලා අහනවා, ඔබ ලෝකය මවන ලදී කියන ආචාර්යවාදය පනවනවා නේද. ඊටපස්සෙ ඒ මිනිස්සු කියනවා ඔව් අපි අදහගෙන ඉන්නෙ ලෝකය මහාබ්‍රහ්මයා මැව්වා කියලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ එයාලාගෙන් අහනවා, ආයුෂ්මතුනි මැවුම්කරුවෙක් විසින් මවන ලදී නම්, බ්‍රහ්මයො විසින් මවන ලදී නම් මේක කොහොමද වුනේ, කොහොමද මැව්වේ කියලා ඔබම අපිට කියලා දෙන්න. ඊටපස්සෙ එහෙම කියනකොට, ඒ මැවුම්වාදය තියෙන අයට එතනින් එහාට ලොකුවට විස්තරයක් කරගන්න තේරෙන්නෙ නෑ. ඒ අය බුදුරජාණන් වහන්සේගෙන්ම අහනවා කොහොමද ලෝකය මැව්වේ කියලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ මැවුම්වාදය, ලෝකෙට ආපු හැටි දේශනා කරනවා. ඒ තමයි මේ ලෝකෙ කාලයක් ගියාට පස්සෙ ලෝකෙ නැසෙන කාලයක් එනවා. ලෝකය නැසෙන කාලය ආවට පස්සේ මේ ලෝක සත්ත්වයා ආභස්සර ලෝකෙට යනවා. ස්වයංප්‍රභා, පීතිබක්කා, ප්‍රීතිය ආහාරයට අරගෙන ශරීරයෙන් තමන්ම රැස් විහිදුවා විහිදුවා ප්‍රීතිය අනුභව කර කර අන්තලික්ඛචරා, ආකාසයේ තමයි සැරිසරන්නෙ. ඔහොම සත්තවයෝ ආභස්සර ලෝකෙට යනවා මේ සත්ත්වයෝ නැසෙනකොට. ඊටපස්සෙ ආයෙ කාලයක් ගියාට පස්සෙ මේ පෘථිවිය ඇතිවෙනවා. පෘථිවිය ඇතිවෙන කාලෙ වෙනකොට අර ආභස්සර ලෝකෙන් බ්‍රහ්මයෙක් චුත වෙනවා. ආයුෂ ගෙවිලා

හෝ පින ගෙවිලා චුත වෙලා මේ පෘථිවිය ආසන්නයේ උපදිනවා. ඒ ඉපදුනත් ඉපදෙන්නෙ බ්‍රහ්මයෙක් විදියට. ආකාසෙන් යන්නෙ, ප්‍රීතිය අනුභව කරන්නෙ. ඊටපස්සෙ ස්වයංප්‍රභා, තමන්ගේ ශරීරයෙන් ආලෝකය විහිදෙනවා. ඔහොම ඉන්නකොට මෙයා බොහෝ කාලයක් ඉන්නකොට. මෙයාට බොහෝ කාලයක් තනිව ඉන්න එක හේතු කරගෙන කම්මැලිකමක් එනවා. ඉතින් ඒ කම්මැලිකම මුල් කරගෙන මෙයා කල්පනා කරනවා අනේ තවත් කවුරුහරි ඉන්නවානම් මේ ලෝකෙ කියලා. එහෙම හිතලා කාලයක් යනකොට ආභස්සර ලෝකෙන් තවත් ආයුෂ ගෙවුන තවත් පින ගෙවුන කෙනෙක් ඒ ලෝකෙන් චුත වෙලා, ආයෙ පෘථිවිය ආසන්නයේ උපදිනවා. ඊටපස්සෙ ඔන්න ඒක සිද්ධ වුනේ යම්කිසි හේතුවක් ඇතිව. අර ආයුෂ ගෙවීම, පින ගෙවීම මුල් කරගෙන. නමුත් අර ඉස්සෙල්ලා ඉපදිච්ච එක්කෙනා හිතුවා මමයි හිතුවෙ තවත් අය ඉන්නවා නම් හොඳයි කියලා. ඊටපස්සෙ තමයි මේ අය පහළ වුනෙ. ඒ නිසා මම තමයි මෙයාලව මැව්වෙ. බ්‍රහ්මවිමානයක් කලින් තිබ්බෙ. ඊටපස්සෙ පස්සෙ ඉපදිච්ච අය ඔක්කොම අරයට යටත් වුනා. කලින් ඉපදිච්ච කෙනාට. ඒ වගේම මේ ශරීරයේ වර්ණය අර පස්සෙ ඉපදුනු බ්‍රහ්මයන්ගේ අඩුයි. ඉස්සෙල්ලා ඉපදුනු බ්‍රහ්මයාගේ වර්ණය වැඩියි. ආලෝකය වැඩියි, ආයුෂ වැඩියි. ඊටපස්සෙ මෙයාලා තීරණය කලා මේ මහාබ්‍රහ්මයා තමයි ඉස්සෙල්ලා ඉපදුනේ. අපි පස්සෙ ඉපදුනේ. මහා බ්‍රහ්මයා තමයි හිතලා තියෙන්නෙ අපිව පහළ වුනොත් හොඳයි කියලා. ඉතින් ඊටපස්සෙ තමයි අපිව පහළ වුනෙ. ඒ නිසා අපිව මැව්වේ මේ බ්‍රහ්මයා, කියලා මේ බ්‍රහ්මයත් හිතනවා මමයි බ්‍රහ්මයා, මහා බ්‍රහ්මයා, ලෝකය මැඩපවත්වන. අන්‍යයකු විසින් මැඩපවත්වන්න බැරි, සියල්ල වසඟයේ පවත්වාන මැවුම්කාර, ලෝකය නිර්මාණය කලා නිර්මාපකයා, ලෝකය බබුළුවන බලය පතුරුවන කෙනා, ලෝකය සකස් කරන කෙනා, අන්‍යයන් වසඟයේ පවත්වන කෙනා උපන්නා වූත් ඉපෙදන්නාන වූත් සත්ත්වයාගේ දෙව් පියාණන් වෙමි, මා විසින් මේ සත්ත්වයෝ මවන ලද්දාහුය. ඒ මක් නිසාද යත් මටම කලින් මේ අදහස ඇතිවුනා. ඒකාන්තයෙන් මේ අන්‍ය සත්ත්වයෝත් මේ ආත්මයට පැමිණෙනවා නම් හොඳයි කියලා. ඊටපස්සෙ තමයා මගේ පැතුම ඉටුවුනේ. මේ සියලු දෙනා අපිට පස්සෙ ඉපදුනා. දැක්කද ලෝකෙ මැවුම්වාදය හටගන්න හැටි. ඊටපස්සෙ පස්සෙ කාලෙ ඉපදුනු කට්ටිය කියනවා අනේ මේ තමයි මහා බ්‍රහ්මයා, මෙයා තමයි ප්‍රඥාවෙන් සියල්ල දන්නේ සියල්ල දකින්නේ. අපිව මවලා තියෙන්නෙ මෙයා, අපි සියලු දෙනාගේ දෙව්පියාණන් වහන්සේ මෙයා කියලා පළවෙනියව ඉපදුනු කෙනා ගැන

සළකනවා. ඕන්න ඔය විදියට තමයි ලෝකෙට මැවුම්වාදය එන්නෙ. ඊටපස්සෙ ඔන්න කාලයක් ගියාට පස්සෙ මේ අතරින් කෙනෙක් චුත වෙනවා. ඒ දිව්‍යලෝකෙන් චුත වෙලා මනුස්ස ලෝකෙ පහළ වෙනවා. දැන් මේ දෘෂ්ටිය ආවෙ මිනිස්සුන්ට නෙවෙයි, දෙව්ලොව ඉපදුනු අයට. ආභස්සර ලෝකෙන් චුත වෙලා මේ පෘථිවිය ඇසුරු කරගෙන ඉන්න දිව්‍ය විමානයක ඉන්න පිරිසකටයි මේ අදහස ඇතිවුනෙ. ඒ මිනිස්සු අතරින් කෙනෙක් ආයෙ චුත වෙලා ආයෙ මිනිස්සු අතර උපදිනවා. දැන් මේ වෙනකොට පෘථිවියේ මිනිස්සු හැදිලා. එතකොට එයාලා පස්සෙ කාලෙක භාවනාව දියුණු කරලා වෙරවීරිය වඩලා දිවැසින් බලනවා කලින් ජීවිතයි. එතකොට ඒ අයට එක ජීවිතයක් පේනවා. එතනින් එහාට පේන් නෑ. මොකක්ද පේන්නෙ මහා බ්‍රහ්මයා ඉන්නවා. මහා බ්‍රහ්මයා තමයි අනික් අයව මවලා තියෙන්නෙ කියලා පේනවා. එතකොට එයාලත් මේ ලෝකයේ හදනවා මතයක් ඒ තමයි මහා බ්‍රහ්මයා විසින් ලෝකය මැව්වා අපි අනිත්‍යයි ඒ ලෝකෙන් චුත වෙනවා, මහා බ්‍රහ්මයා ස්ථිරසාරයි සනාතනව ඉන්නවා ඒ මැවුම්කාරයා කියලා. මොකද තවත් පිටිපස්සෙ ආපහු බලනකොට මහා බ්‍රහ්මයා ඉන්නවා පේනවා. හේතුව ඒ මහා බ්‍රහ්මයාගේ ආයුෂ වැඩියි එතනින් පස්සෙ ඉපදෙන දෙවිවරුන්ගේ ආයුෂ අඩුයි. මහා බ්‍රහ්මයත් යම් දවසක කළුරිය කරනවා. කළුරිය කරනකොට ඒ අතරෙ දෙතුන් වතාවක් වත් අර පස්සෙ ඉපදිච්ච අය කළුරිය කරලා. එතකොට එයාලා හිතනවා මහා බ්‍රහ්මයා නිත්‍යයි සදාතනිකයි බ්‍රහ්ම ලෝකෙ ඉස්සෙල්ලාම ඉන්නවා, ලෝකෙ මවන්නෙ එතුමා කියලා. අපි අනිත්‍යයි අපි ඒ නිසා ඒ ලෝකවලින් චුත වුනා කියලා හිතනවා, ඔය විදියට තමයි කියනවා මැවුම්වාදය එන්නෙ. බුදුරජාණන් වහන්සේ කියනවා ඔය වාද විවාද ඒවා හටගන්න හැටිත් ඔතනින් එහාටත් මට පේනවා. නමුත් තථාගතයන් වහන්සේ ඒවා ග්‍රහණය කරගන්නැති නිසා නිවී වැඩ වාසය කරනවා කියලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා භාග්‍යව ඇතැම් ශ්‍රවණ වරු සිටිනවා කිඩ්ඩාපදූශික දෙවියන් මුල් කරගෙන ලෝකය සකස්වීම පිළිබඳව ආචාර්‍යවාදයක් ගොඩ නගනවා. ඒ අය මෙහෙමයි වෙන්නෙ. ඔන්න කිඩ්ඩාපදූශික දෙවියන් පිරිසක් ඉන්නවා. ඒ දෙවියෝ ඔහොම ඉන්නකොට, බුදුරජාණන් වහන්සේ දැන් ඔය ඒ මතය තියෙන මැවුම්කාරවාදය තියෙන ඒ අදහස තියෙන අය ළඟට ගිහිල්ලා අහනවා ඔබ කොහොමද මේ වාගේ අදහස් දරන්නෙ කියලා. ඒ අයට ඒවා අග මුල විස්තර කරලා කියන්න බෑ, එයාලා කියනවා අපි ආචාර්‍යවරු, අපිට කියලා දීලා තියෙනවා මෙහෙම අදහසක් අපි ඒ අදහසේ ඉන්නෙ කියලා. එහෙම

කිව්වට ඒ අදහස ඒ දෘෂ්ටිය කොහොමද හිතට ආවේ කියලා ඉස්සෙල්ලාම පැනනැගුනේ කොහොමද කියලා විස්තර කරන්න බෑ. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා දැන් කිඩ්ඩාපදූශික දෙවිවරු දිව්‍යලෝකෙ ඉද්දින් අතිවේලාවක්, බොහෝ වේලාවක් ක්‍රීඩා කිරීම හේතු කරගෙන සිහි මුලාවෙලා ඒ ලෝකෙන් චුතවෙනවා. කිඩ්ඩාපදූශික කියන්නෙ ක්‍රීඩාව වැඩිවීම නිසා ඒ දිව්‍ය ජීවිතය දූෂ්‍ය වෙලා යනවා. නැතිවෙලා යනවා. ඊටපස්සෙ ඒ අය මනුස්ස ලෝකෙට එනවා. මනුස්ස ලෝකෙ භාවනාවක් කරනවා, පෙර ජීවිත පේන ඍද්ධියක් පහළ වෙනවා. එහෙම පෙනුනට පස්සෙ එක ජීවිතයක් පේනවා. පේනකොට පේනවා ක්‍රීඩාවලින් වැඩිපුර කෙලිසෙල්ලම් කරලා එයින් සිහිමුලා වෙලා අපි ඒ දිව්‍යලෝකෙන් චුත වෙලා අපි මේ ලෝකෙට ආවා. එතකොට වේලාව ඉක්මවන්නැතිව අතිවේලා බොහෝ වේලාවක් ක්‍රීඩා කරන්නැතිව සුවසේ ඉන්න බ්‍රහ්මයොත් තවම ඉන්නවා දිව්‍ය ලෝකෙ. එහෙනම් ඒ පිරිස නිත්‍යයි සදාතනිකයි ආත්මයි. අපි තමයි අනිත්‍ය, අපි තමයි අස්ථිර කියලා පෙලක් නිත්‍යයි කියන දෘෂ්ටියක් ලෝකෙ ඇතිවෙනවා ඔය කිඩ්ඩාපදූශික දෙවියන් මුල් කරගෙන. එතකොට බුදුරජාණන් වහන්සේ ඒ සිද්ධියත් එතනින් එහාට දන්නවා දකිනවා. නමුත් බුදුරජාණන් වහන්සේ නිකෙලෙස් නිසා මේ ශාන්තව සැනසී සිහිල් වී ගිහිල්ලා ඉන්නෙ. දන්න දැනුමෙන් ඒ අදහස් ගැන දන්න විස්තර වලින් තමන් පීඩාවට පත්වෙන් නෑ, අපහසු ඇතිකෙරෙන් නෑ. ඊළඟට තියෙනවා මනෝපදූශික දෙවිවරු කියලා. මනෝපදූශික දෙවිවරු කියන්නෙ ඒත් දේව කොට්ඨාශයක්. එයාලගෙ හිත කිලිටිවෙච්චි ගමන් දිව්‍යලෝකෙන් චුත වෙනවා. එතකොට දැන් සමහර වෙලාවට ඒ දෙවිවරු දෙන්නෙක් අතර බැරිවෙලාවත් අමනාපයක්, අසතුටක් ඇති වෙච්චි ගමන් අනිත් එක්කෙනා දිහා තරහින් බලාගෙන ඉන්නවා කියනවා. බලාගෙන ඉදලා හිත දූෂ්‍ය වෙලා එතනින්ම චුත වෙනවා. චුත වෙලා තවත් ලෝකෙක උපදිනවා. බලන්න එහෙම ලෝකත් තියෙනවා, මනෝපදූශික කියලා. ඊටපස්සෙ ඒ මනෝපදූශික දෙවිවරු ඒ ලෝකෙ ඉදලා ඔන්න එතනින් කර්මානුරූපව චුතවෙලා මනුස්ස ලෝකෙට එනවා. මනුස්ස ලෝකෙට ඇවිල්ලා මනුස්ස ලෝකෙ භාවනාවක් දියුණු කරගන්නවා. එක ජීවිතයක් භාවනාවෙන් පේනවා. පේනකොට පේනවා තමන් එක්ක කලින් හිටපු දෙවිවරු ඔක්කොම ඉන්නවා. තමන් හිත දූෂ්‍ය කරගත්තු නිසා චුත වුනා. එහෙනම් හිත කිලිටි කරගන්නැති අය නිත්‍යයි, කිලිටි කරගත්තු අය අනිත්‍යයි. හිත කිලිටි කරගත්තෙ නැති අය සදාතනිකයි, අපි අස්ථිරයි කියලා දෘෂ්ටියක බැස ගන්නවා. බුදුරජාණන්

වහන්සේ අහනවා ඒ දෘෂ්ටිය තියෙන අයගෙන් ඔහොම නේද ඕවා හටගත්තෙ කියලා. ඊටපස්සෙ එයාලා කියනවා එහෙමයි භාග්‍යවතුන් වහන්ස, ඒ විදියට තමයි හටගෙන තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ එතනින් එහාටත් ලෝකෙ මතවාද හටගන්න හැටි, ලෝකයේ වංශකතාව දන්නවා. නමුත් බුදුරජාණන් වහන්සේ නිකෙලෙස් නිසා අභ්‍යන්තරයම සිසිල් වී ගිහිල්ලා වැඩ සිටිනවා ඒ මතවාද දැනගත්තා කියලා ඒවයින් භාග්‍යවතුන් වහන්සේ අපහසුවක්, පීඩාවක් ඇති කරගන් නෑ. ඊළඟට ලෝකෙ ඉබේ හටගත්තා කියන දෘෂ්ටි තියෙන අය ඉන්නවා. දැන් බුදුරජාණන් වහන්සේ ඒ අය ළඟටත් යනවා. ඒ අය ළඟට ගිහිල්ලා අහනවා ඉබේ ලෝකෙ හටගත්තා කියලා දෘෂ්ටි තියෙනවා නේද, අදහසක්, ඒක කොහොමද වෙන්නෙ. කොහොමද ඒක පැනෙව්වෙ කියලා. ඊටපස්සෙ ඒකට එයාලට උත්තර දීගන්න බැරිව බුදුරජාණන් වහන්සේගෙන්ම අහනවා කොහොමද ඒක සිද්ධ වුනේ කියලා. එතකොට බුදුරජාණන් වහන්සේ ඒ අදහස විස්තර කරනවා. ඒ තමයි අසංඥ සත්ත්ව කියලා සත්ත්ව නිකායක් තියෙනවා. ඒ ලෝකෙ ඉපදුනාට පස්සෙ සංඥාව රහිතයි. සාමාන්‍යයෙන් අපි දැන් නිදාගත්තට පස්සෙ එළිවෙනකල් ඒ අතරතුර මොකක්ද වුනේ කියලවත් දන්නෙ නැනෙ නමුත් යම් ජීවිතයක් තියෙනවානෙ එතන. ඒ වාගේ සංඥාවක් නැතිව - උපමාවක් එහෙම කිව්වෙ - සංඥාවක් එහෙම නැතිව තියෙන දිව්‍ය ලෝක තියෙනවා. කල්ප පන්සීය, ඊළඟට ඊටත් වැඩිය කල්ප ගණන් මේ සා සංඥාවක් නැතිව වාසය කරනවා. යම් මොහොතක ඒ අයට සංඥාව ඉපදුනාද - දැන් අපි මේ නිදාගෙන ඉඳලා ඇහැරුනා. ඇහැරිච්ච ගමන් එයා ඇහැරිච්ච කෙනෙක් මිසක් නිදාගත්තු කෙනෙක් නෙවෙයි. ඒ වගේ සංඥාව ඉපදුනාද, සංඥාව ඉපදිච්ච සැනින් එයා චුත වෙනවා. එතකොට මනුස්ස ලෝකෙ එයා පහළ වෙනවා. ඊටපස්සෙ මෙයා පස්සෙ කාලෙක පැවිදි වෙනවා. පැවිදි වෙලා පෙර ජීවිත බලනවා. පෙර ජීවිත බලනකොට පේන් නෑ. ඇයි ඒ කාලෙ සංඥා නැනෙ. පෙනෙන්නෙ නෑ, දැනෙන්නෙ නෑ. එතකොට ඒ අය හිතනවා මං කලින් හිටියෙ නෑ. දැන් තමයි මේ මං පහළ වුනේ. එතකොට මං පහළ වුනේ ඉබේමයි. කොහොමද අහුවෙන ගැට. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඒ විදියට නේද ඔය දෘෂ්ටි හටගන්නෙ. ඉතින් ඒ අය කියනවා, භාග්‍යවතුන් වහන්ස ඒ විදියට තමයි ඒ දෘෂ්ටිය උපදින්නේ කියලා. ඒ විදියට තමයි අපි දන්නෙ, අපේ ආචාර්යවරු අපිට කියලා තියෙන්නෙ. ඉතින් භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ලෝකයේ සකස් වෙනා හැටි ඔය විදියත් දන්නවා, ඔතනින් එහාත් දන්නවා, සිතින් ග්‍රහණය කරගෙන නෑ. තමන් දන්නා දේ ඒ

විදියට ග්‍රහණය කරගෙන නෑ බුදුරජාණන් වහන්සේ. ඊටපස්සේ ඒ විදියට ග්‍රහණය කරගන්නැති නිසා තමාම නිවිලා වාසය කරනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා අර භාගීවට, මෙසේ කරුණු සහිතව ධර්මය පවසන මා හට ඇතැම් ශ්‍රමණ බ්‍රාහ්මණවරු සත්‍ය නොවූ තුච්ඡ වූ බොරුවෙන් අභූතයෙන් දොස් නගනවා. දැන් මතවාදයක් ඇතිවෙන විදිය පවා සත්‍යාකාරයෙන් ඒ විදියටම දන්නා දකිනා බුදුරජාණන් වහන්සේටත් අනුන් දොස් කියනවා. කොහොමද ශ්‍රමණ ගෞතමයෝත්, ඔහුගේ ශ්‍රාවක භික්ෂූහුත් පෙරලී ගිය සිතැත්තෝය. ශ්‍රමණ ගෞතමයෝ මෙසේ කියත් නොවැ. කියනවා ගෞතමයන් වහන්සේයි එයාගෙ ශ්‍රාවකයොයි ඔක්කෝගෙම හිත විප්‍රකාර වෙලා, ඔල්මාදෙ හැදිලා කියලා කියනවා. ඇයි හිත පෙරලිලා ගිහිල්ලා තියෙන්නෙ. මෙයාලා කියනවා, දැන් දොස් කියන්නනෙ කියන්නෙ. යම් අවස්ථාව සුභවිමෝක්ෂයක් උපදවා වාසය කරයිද, එසමයෙහි සියල්ල අසුභ වශයෙන් දැනගන්නවා කියලා ඒ අය කියනවා. ඉතින් කියනවා ඒ වෙනත් තාපසවරු බුදුරජාණන් වහන්සේට චෝදනා කරන්නෙ ශ්‍රාවකයන්ට චෝදනා කරන්නෙ සුභවිමෝක්ෂය ඇතිවෙලාවට අසුභය දකිනවා කියලා ඒ කාලයේ තිබ්බ මතයක්. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මං එහෙම දෙයක් ප්‍රකාශ කලේ නෑ. මං ප්‍රකාශ කලේ සුභවිමෝක්ෂය ලබනකොට එයාගේ හිතේ සුභ කියන සංඥාවම තමයි එයා දැනගන්නෙ. දැන් මේ තාපසයො හිතුවෙ සුභවිමෝක්ෂය කියනකොට සුභ කියන සංඥාව ඉක්මවලා ගිහිල්ලා ලබන යම්කිසි නිදහස් බවක්, එතකොට ඒ සුභ කියන සංඥාවෙන් ඈත් වෙලා, සුභකිඤ්ඤ කියන සංඥාවෙන් වෙන් වෙලා, එතකොට එයාලා හිතනවා එහෙනම් ඒක තනිකර අසුභයි කියලා. ඒ වගේ තමයි බුදුරජාණන් වහන්සේට කරුණු කිව්වෙ. නමුත් බුදුරජාණන් වහන්සේ වදාළා සුභවිමෝක්ෂය කියලා තියෙන්නේම ඒ සුභ කියන සංඥාව දැනගැනීමමයි කියනවා ඒකෙ තියෙන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ මේ විදියට දේශනා කරනකොට භාගීව කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මං බුදුරජාණන් වහන්සේ ගැන පැහැදිලා ඉන්නේ. කවුරුහරි කියනවා නම් බුදුරජාණන් වහන්සේගේ හා ශ්‍රාවකයන්ගේ හිත් පෙරලී ගිහිල්ලා කියලා ඇත්තටම වෙලා තියෙන්නෙ ඒ අයගේ හිත් තමයි පෙරලී ගිහිල්ලා තියෙන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේට කියා හිටිනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මට භාග්‍යවතුන් වහන්ස හැකියාව තියෙනවා සුභවිමෝක්ෂයට පැමිණ වාසය කරන්න. මම කැමැතියි ඒකට. ඒ නිසා බුදුරජාණන් වහන්සේ මට සුභවිමෝක්ෂය උපද්දවා ගන්න හැටි දහම් දේශනා

කරන්න කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා භාග්‍රීව අන්‍යාගමික මතවාදයකින් යුතුව අන්‍ය ලබ්ධියක් තියෙන ආචාර්‍යයකු වූ අන්‍ය වැඩපිළිවෙලක අන්‍ය තීර්ථක ආචාරියෙක් වුනු ඔබට අපි මේ බුද්ධ ශාසනයේ තියෙන සුභවිමෝක්ෂාදිය කිව්වට ඔබට ඒවා තේරෙන් නෑ, ඔබට ඒවා පුරුදු කරගන්න අමාරුයි. නමුත් ඔබට මං ගැන පැහැදීමක් තියෙනවානෙ. ඒ පැහැදීම ආරක්ෂා කරගන්න. ඒක පුදුම සහගත කීමනාවක්. ඊටපස්සෙ එහෙම කිව්වම භාග්‍රීව කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස අන්‍ය මතවාදයකින් යුක්ත අන්‍ය ලබ්ධියකින් යුත්, අන්‍ය මතයක් රුචි කරන, අන් වැඩපිළිවෙලක යෙදී සිටින, අන්‍ය තීර්ථ ආචාර්‍යවරයෙක් වූ මා විසින් සුභවිමෝක්ෂය මට අනුගමනය කරන්න අමාරු නම්, ඒක ලබාගන්න මට අමාරු නම්, භාග්‍යවතුන් වහන්සේ මට කියන්නෙ හිත පහදවාගෙන ඉන්න, ඒක රැකගන්න කියලා නම් මම බුදුරජාණන් වහන්සේ කෙරෙහි තියෙන පැහැදීමක් ඇත් ද, ඒක පමණක් මම හොඳින් රැකගෙන වාසය කරන්නම් කියලා කිව්වා. ඉතින් ඒ භාග්‍යවතුන් වහන්සේගේ දේශනාවට භාග්‍රීව ගොඩාක් සතුටු වුනා කියලා මේ පාථික සූත්‍රය මෙතනින් අවසන් වෙනවා. එතකොට බලන්න අර සුනක්ඛත්තගෙ සිද්ධි, අර ඍද්ධි ප්‍රාතිහාර්ය පාන සිද්ධි, ඊළඟට ලෝකය මවන සිද්ධි, ඒවා ඔක්කොම, ලෝකෙ මතවාද හටගන්න සිද්ධි මේ සියල්ලම බුදුරජාණන් වහන්සේ භාග්‍රීවට දේශනා කරන්නෙ ඇයි, ඔහුගේ හිතේ ප්‍රසාදය හටගැනීම පිණිස. එතකොට බුදුරජාණන් වහන්සේ එච්චර ධර්මය දේශනා කරලා භාග්‍රීවට කියනවා ඔබට මෙතනින් එහාට ධර්මය දියුණු කරගන්න හෝ ඊළඟට මෙතනින් එහාට ඔබට ලොකු දෙයක් කරගන්න ශක්තියක් නෑ, හැබැයි බුදුරජාණන් වහන්සේ කෙරෙහි ඇතිවුනු පැහැදීම රැකගන්න කියනවා. ඒ වාගේ අදත් ඔබට කියන්න තියෙන්නෙ ඒකයි. රහතන් වහන්සේලා, ඒ කාලෙ මාර්ගඵල ලාභී උත්තමයො, පූරිත පින් තියෙන ශ්‍රාවකයො පුරුදු කරපු දහම් වැඩපිළිවෙලවල් තියෙනවා. සත්තිස් බෝධිපාක්ෂික ධර්මයෝ. එතකොට ගෙවල් දොරවල්වල වාසය කරලා අඹුදරුවන් සමඟ වාසය කරන, මේ කාම ලෝකයට යටවුනු මිනිස්සුන්ට මේ මහා උත්තමයො ස්පර්ශ කරපු මේ කුසල් දහම් ස්පර්ශ කරන්න අමාරුයි. ඒක තමන්ට හොඳටම තේරෙනවා නම් බුදුරජාණන් වහන්සේගේ අවවාදයේ පිහිටන්න. ඒ තමයි බුදුරජාණන් වහන්සේ මේ භාග්‍රීව තාපසයාට දුන්නු අවවාදය ඒක තමයි හිතේ පැහැදීමවත් රැකගන්න. ඒ නිසා හිතේ පැහැදීමක් ඇතිවෙනවා කියන එක සුළු දෙයක් නෙවෙයි. ඒ චිත්ත ප්‍රසාදය ඇති, ලොකු ලොකු දේවල් තමන්ට හිතෙන් ස්පර්ශ කරන්න බැරිවුනාට පැමිණ වාසය

කරන්න බැරිවුනාට, මාර්ගඵල ආදී උතුම් දේවල් තමන්ට ලබාගන්න බැරිවුනාට, බුදුරජාණන් වහන්සේ ගැන පැහැදීමක් තියෙනවා නම්, ධර්මය ගැන පැහැදීමක් තියෙනවා නම්, ආර්ය මහාසංඝරත්නය ගැන පැහැදීමක් තියෙනවා නම් ඒ පැහැදීමවත් ආරක්ෂා කරගන්න ඕන. එච්චර උපකාරයි. බුදුරජාණන් වහන්සේ මෙච්චර දැන් පැය ගාණක් ධර්ම දේශනා ආදී ඒ කරුණු කියලා විස්තර කරන්නෙ අවසානෙ එකම එක බලාපොරොත්තුවක් ඇතිව. ඒ තමයි මේ දේශනාව මුල් කරගෙන මොහුට ඇතිවෙන චිත්ත ප්‍රසාදය. ඒ නිසා තමයි අපගේ ජීවිතේ චිත්ත ප්‍රසාදයක් නැතිව අවුරුදු විස්ස, තිහ, හතළිහ අපගේ ජීවිතේ ගෙවි ගෙවී යන්න ඇති. නමුත් පින්වතුනි දැන් අපේ හිත පැහැදෙන විදියට ධර්මයක් ඇහෙනකොට ඒ ධර්මය ඇහෙන වෙලාවෙ නම් හිත අපහදවගන්න එපා. හිතේ යම්කිසි පැහැදීමක් ඇතිවෙනවාද, ඒක නාගයෙක් මැණිකක් රකිනවා වගේ ආරක්ෂා කරගන්න ඕන. දුප්පතෙක් නිධානයක් රැකගෙන වාසය කරනවා වගේ ආරක්ෂා කරගන්න ඕන. ඉතින් ඒ කරුණු කාරණා තේරුම් ගන්න. බුදුරජාණන් වහන්සේ ගැන තියෙන පැහැදීම රැකගන්නවා කියන එක සුලුපටු දෙයක් කියලා හිතන්න එපා. එච්චරම උපකාරයි. ඒකයි බුදුරජාණන් වහන්සේ මේ භාගීවට දේශනා කරන්නෙ හිතේ උපන් පැහැදීමවත් රැකගන්න කියලා. එතකොට ඒ භාගීව ජීවිත කාලෙම ඒ හිතේ උපන්නා වූ පැහැදීම රැකගෙන වාසය කරනවා. පස්සෙ කාලෙක ඉතින් ඒ භාගීවට යහපතක් වෙන්න ඇති. එතකොට මේ කතාවට මුල් වුනේ, මේ දහම් කතාවට අර බුදුරජාණන් වහන්සේ ළඟම ඉදලා උපැවිදි වෙලා ගිය සිවුරු අත්හැරපු සුනක්ඛත්තගේ කතාව. ඉතින් ඒ වාගේ තැන් වලට බුදුරජාණන් වහන්සේ නොබියව මුහුණදුන්නා. ඒ වගේම ඒ අය එල්ල කරන චෝදනා, ඊළඟට පාථික ආදී තාපසයෝ බුදුරජාණන් වහන්සේට කරන අභියෝග, ඒවා ඉදිරියේ බුදුරජාණන් වහන්සේ මුහුණ දෙන ආකාරය බලන්න. ඇත්තටම බුදුරජාණන් වහන්සේගේ තියෙන නිර්භීත බව, ඊළඟට බුදුරජාණන් වහන්සේ කරුණු සහිතව ඒ සෑම දෙයක්ම නිෂ්ප්‍රභා කරන හැටි, හරිම පුදුම සහගතයි. දවසක් බුදුරජාණන් වහන්සේ දැක්කා තව සිද්ධියක් තියෙනවා චූලදුක්ඛකන්ධ සූත්‍රයේ, බුදුරජාණන් වහන්සේ දැක්කා ඒ කාලෙ බුදුරජාණන් වහන්සේ ගිජ්ජකූටයේ වැඩ ඉන්නකොට ඉසිගිලි පර්වතයේ බෑවුමට වෙන්න කළුගල් තලාවක් තියෙනවා. ඒ කළුගල් තලාවේ නිගණ්ඨ පිරිසක් ආසන ප්‍රතික්ෂේප කරලා හිටගෙන තපස් රකිනවා දැක්කා. ගොඩාක් දුක් දෙනවා ශරීරයට. එතකොට බලන්න, ඉසිගිලි පර්වතය, ඊළඟට ගිජ්ජකූට පර්වතය සහ ඒ අවට

තියෙන පර්වත වල සාමාන්‍යයෙන් බුදුරජාණන් වහන්සේ, මහරහතන් වහන්සේලා වැඩ සිටිනවානෙ. එතකොට අසූමහා ශ්‍රාවකයන් සහිත මහරහතන් වහන්සේලා වැඩ ඉන්න, බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න ඒ පර්වතයට අල්ලපු ගල් තලාවේ නිගණ්ඨයො නිගණ්ඨ තපස් රකිනවා. තනි කකුලෙන් ඉඳගෙන. පුදුම සහගත සිද්ධියක් මේක. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ නිගණ්ඨයො ළඟට යනවා. දැන් නිගණ්ඨයො විමුක්තියක් උදෙසානෙ මේක කරන්නෙ. බුදුරජාණන් වහන්සේ නිගණ්ඨයන්ගෙන් අහනවා, ඈ හැබෑට නිගණ්ඨවරුනි, ඔහේලා වාඩිවෙන ආසන ප්‍රතික්ෂේප කරලා හිටගෙන විතරක් පුදුම විදියට දුක් පීඩා විඳ විඳ වාසය කරනවා. හිතා මතා ශරීරයට දුක් දෙනවා. මං අහන්නෙ ඇයි ඔබ මෙහෙම කරන්නෙ. එතකොට භාග්‍යවතුන් වහන්සේට නිගණ්ඨයො ටික උත්තර දෙනවා ආයුෂ්මතුන් වහන්ස - යාළුවෙකුට වගේ හිතවත් කෙනෙකුට වගේ කතා කරනවා - ආයුෂ්මතුන් වහන්ස නිගණ්ඨනාතපුත්‍රයන් වහන්සේ තමයි අපිට මේ හැමදෙයක්ම කියලා දීලා තියෙන්නෙ. නිගණ්ඨනාතපුත්‍රයන් වහන්සේ තමයි මේ හැමදෙයක්ම දන්නෙ, දකින්නෙ. උන්වහන්සේට හිටගෙන ඉන්නකොට, ඇවිදගෙන ඉන්නකොටත්, නිදාගන්නකොටත්, ඇහැරෙනකොටත්, හැමතිස්සේම ඥාණයක් තියෙනවා. ඥාණය විවෘත වෙලා තියෙන්නෙ. එතුමා තමයි අපිට කිව්වෙ, ඒයි නිගණ්ඨවරුනි, නුඹලා පෙර කරපු පාප කර්ම තියෙනවා. ඉතින් නුඹලා මේ කටුක දුෂ්කර ක්‍රියාවෙන් ඒ පව් ටික දිරවපල්ලා. දිරවලා දාපල්ලා කියලා නිගණ්ඨනාතපුත්‍ර තමයි අපිට කිව්වෙ පව් ටිකත් ගෙවලා දාන්න, පව් නැති කරගන්න මෙහෙම දුක් විඳින්න කියලා. ඊටපස්සෙ කයින් සංවර වෙනිල්ලා, වචනයෙන් සංවර වෙනිල්ලා, මනසින් සංවර වෙනිල්ලා කියලා අපිට බණ කිව්වා. එතකොට කර්ම සකස් වෙන්නෑ, දැන් නිගණ්ඨනාතපුත්‍ර කියනවා එතකොට කර්ම සකස් වෙන් නෑ. ගෝල බාල පිරිසට අවවාද කරපු විදිය. දැන් මෙතන ඉන්නෙ ගෝල බාල පිරිස. නිගණ්ඨනාතපුත්‍ර මෙතන නෑ, එයාගෙන් උපදෙස් අරගෙන ඇවිල්ලා තනි කකුලෙන් තපස් රකින නිගණ්ඨයො තමයි මේ ඉන්නෙ කාලසිලාවෙ. ඊටපස්සෙ සිතින් කයෙන් වචනයෙන් අකුසල් කරන්නැතිකොට, මෙහෙම තපස් රැක රැක ඉන්නකොට පුරාණ කර්ම ටික ගෙවිලා, අලුත් කර්ම නැති නිසා එහෙම්මම නිර්වාණයට යනවා. නැත්නම් සන්සිඳිලා යනවා, වේදනාව ක්ෂය වෙලා යනවා. වේදනාව ක්ෂය වීමෙන් දුක් ක්ෂය වෙනවා. දුක් දිරවලා යනවා. මෙන්න මේ විදියට තමයි නිගණ්ඨනාතපුත්ත අපිට උපදෙස් දුන්නේ කියලා කිව්වා. එතකොට

බුදුරජාණන් වහන්සේ අහනවා ඈ නිගණ්ඨවරුනි, ඔහේලා දන්නවාද එතකොට අපි සංසාරයේ හිටියා කලින්, එහෙම නැත්නම් සංසාරේ හිටියාද නැද්ද කියලා දන්නවාද ඇහුවා. අනේ අපි නම් දන්නෑ එහෙම එකක් කිව්වා. හරි, එහෙනම් ආයුෂ්මතුනි ඔහේලා දන්නවාද සංසාරයේ අපි පව් කරපු අයද, පව් කරපු නැති අයද කියලා ඔයාලා ගැන දන්නවාද, දන් නෑ කිව්වා. හරි එහෙම නම් ඔයාලා දන්නවාද, සංසාරේ අපි මෙන්න මේ විදියට මෙන්න මේ විදියේ පව් කරලා තියෙන්නෙ කියලා දන්නවාද, දන්නෙ නෑ කිව්වා. එහෙනම් නිගණ්ඨවරුනි ඔහේලා දන්නවාද අපි මෙච්චරක් දැන් පව් ගෙවලා ඉවරයි, තව මෙච්චරක් පව් ඉතුරු වෙලා තියෙනවා මෙච්චරක් දුක් විඳලා ඉවරයි මෙච්චරක් තව දුක් විඳින්න තියෙනවා කියලා දන්නවාද, අනේ එහෙම එකක් දන්නෙත් නෑ කිව්වා. ඊටපස්සෙ මේ ජීවිතයේ අකුසල් නැති කරලා මෙච්චර කුසල් ප්‍රමාණයක් අපි දැන් උපදවාගෙන ඉන්නවා කියලා දන්නවාද, එහෙම දන්නෙත් නෑ කිව්වා. එහෙනම් නිගණ්ඨවරුනි, මේක හරි දෙයක්නෙ ඔහේලා සංසාරෙ හිටියද නැද්ද කියලත් දන්නෙ නෑ, කලින් පව් කරලා තියෙනවාද කියලා දන්නෙත් නෑ, මොන මොන පව් ද කරලා තියෙන්නෙ කියලා දන්නෙත් නෑ, මේ ජීවිතේ දැන් මෙච්චර පව් ගෙවලා ඉවරයි, මෙච්චර ඉතුරු වෙලා තියෙනවාද කියලා දන්නෙත් නෑ, මෙච්චර කුසල් උපද්දවලා තියෙනවා, මෙච්චර තව ගෙවන්න තියෙනවා, උපද්දවන්න තියෙනවාද කියලා දන්නෙත් නෑ. ඒ මොකක්වත් දන්නෙ නැතිව මේ විදියට දුක් විඳිනවා. ඉතින් මට නම් හිතෙන්නෙ එහෙමනම් ඒකාන්තයෙන්ම නිගණ්ඨවරුන් ආයෙ දෙකක් නෑ ඔහේලා මේ කලින් රෞද්‍ර ලේ තැවරුණු අත් ඇති කෲර මිනිස්සු අතරෙ තමයි උපදින්න ඇත්තෙ. දැන් ඒ උදවිය තමයි නිගණ්ඨයන් අතර පැවිදි වෙලා ඉන්නෙ. කලින් හරීයට පව් කරලා ඇති කිව්වා, ඒ කරපු පව් දැන් විපාක විඳිනවා මෙහෙට ඇවිල්ලා. ඊටපස්සෙ නිගණ්ඨවරු කියනවා, නිගණ්ඨයො, ඉතින් එහෙම කොහොමද වෙන්නෙ, දුක් විඳලනෙ සැප ලබන්න තියෙන්නෙ. සැපෙන් සැප ලබන්න බෑ කිව්වා. දුක් විඳලා තමයි කිව්වා සැප ලබන්න පුලුවන්නෙ. දැන් සැපෙන් සැපය ලබන්න පුලුවන් කමක් නෑ. දන් ගත්තොත් එහෙම බිම්බිසාර රජ්ජුරුවො ගත්තොත් එහෙම බිම්බිසාර රජ්ජුරුවන්ගේ සැපයයි, ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ සැපයයි දිහා බලනකොට ඒ අය කියනවා, අපි නම් හිතන්නෙ බිම්බිසාර රජ්ජුරුවො තමයි හරියට සැපසේ වාසය කරන්නෙ. ශ්‍රමණ භවත් ගෞතමයන්ට වඩා. ඉතින් එහෙම කියනකොට බුදුරජාණන් වහන්සේ වදාළා නිගණ්ඨවරුනි දුරදිග හිතන්නැතිව මහ බරපතල කතාවක්නෙ කිව්වෙ. ඒ තමයි සැපයකින් සැපයක්

ලබන්න බෑ, දුකින්මයි සැප ලබන්නෙ. ගෞතමයන් වහන්සේ සැප විඳලා සැපයක් ලබන්න පුලුවන්කමක් තියෙනවා නම් මේ රටේ මගධ රජ්ජුරුවො වන සේනිය බිම්බිසාරටයි ඒ සැපය ලබන්න පුලුවන් වෙන්නෙ, ගෞතමයන් වහන්සේට වඩා මගධ රජ්ජුරුවො සේනිය බිම්බිසාර රජ්ජුරුවො නම් සැපෙන් වාසය කරනවා කියලා වචනයක් කිව්වා නේද, ඒක මහා බරපතලයිනෙ කිව්වා. ඉතින් අහන්න තිබ්බෙ එහෙම නෙවෙයිනෙ. මගධයේ රජතුමායි, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේයි ගත්තොත් ඔබ වහන්සේයි ඒ රජ්ජුරුවනුගෙයි අතරින් කවුද වැඩිපුර සැප විඳින්නෙ කියලා මගෙන් ඇහුවා නම් මං ඒකට උත්තරයක් දෙනවානෙ කිව්වා. ඔහේලාම දැන් නිගමනයකට ඇවිල්ලානෙ කිව්වා. නිගණ්ඨවරු කිව්වා අනේ අපිට වැරදුනානෙ. අපි කලබලේට කියපු එකත් එක්ක ඇත්තටම අපිට වැරදුනා, ඔබවහන්සේයි රජ්ජුරුවොයි අතරින් කවුද සැපසේ වාසය කරන්නෙ. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා නිගණ්ඨවරුන්ට, නිගණ්ඨවරුනි, මං ඔහේලාගෙන් මේ කාරණාව අහන්නෙ, බිම්බිසාර රජ්ජුරුවන්ට පුලුවන් ද එක දිගට කය හොලවන්නැතිව වචන කතා කරන්නැතිව දවස් හතක් ඒකාන්ත එකම සැපයෙන් ඉන්න පුලුවන්ද, දවස් හතක්. ඇඟ හොල්ලන් නෑ, කතා කරන්නෑ එහෙම පුලුවන් ද. අනේ ස්වාමීනී, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස, රජ්ජුරුවන්ට එහෙම සැපයක් විඳින්න බෑ. දවස් හයක්, දවස් පහක්, බෑ. දවස් හතරක්, දවස් තුනක්, දෙකක්, එක දවසක්, එක දිවා රාත්‍රියක්, බෑ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා නමුත් නිගණ්ඨවරුනි, මට ඇඟ හොලවන්නැතිව, වචන කතා කරන්නැතිව එකම එක සැපසේ එකම සැපය උපද්දවගෙන දවසක් ඉන්න පුලුවන්. දෙකක් ඉන්න පුලුවන්, තුනක් ඉන්න පුලුවන්, හතරක් ඉන්න පුලුවන්, පහක් ඉන්න පුලුවන්. හයක් ඉන්න පුලුවන්, හතක් ඉන්න පුලුවන්. ඉතින් ඔය විදියට තියෙනවා නම් නිගණ්ඨවරුනි, කවුද ඒකාන්ත සැපයකින් වාසය කරන්නෙ. භාග්‍යවතුන් වහන්සේද, බිම්බිසාරද. අනේ ඔය විදියට දේශනා කරනවා නම් භාග්‍යවතුන් වහන්සේ තමයි ඒකාන්ත සැපයෙන් වාසය කරන්නෙ, බිම්බිසාර රජ්ජුරුවො කව්ද. ඉතින් මේ විදියට බුදුරජාණන් වහන්සේ නිගණ්ඨයන් සංවේගයට පත් කරලා එනවා. එතකොට ඒ බලන්න බුදුරජාණන් වහන්සේගේ ඒ සම්බුද්ධ ජීවිතය, හැංගි හැංගි පසුබාන එකක් නෙවෙයි තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ ඒ අවස්ථාවට මුහුණ දෙනවා. ඊළඟට මොකක්ද කරන්නෙ, ඊළඟට මොකක්ද කරන්නෙ කියලා මූණ දෙනවා. දැන් අර ඊළඟට මොකද කරන්නෙ කියලා හැංගීමක් නෑ. ඊළඟට පැනලා යාමක් නෑ. ඊළඟට බුදුරජාණන් වහන්සේ

නිකෙලෙස් කියලා හැමදෙයක් ඉදිරියේම නිහඬව කරබාගෙන ඉඳිල්ලකුත් නෑ. බුදුරජාණන් වහන්සේ ඒ ඒ අවස්ථාවල නිගණ්ඨයො අතරට යනවා, තාපසයො අතරට යනවා, එයාලත් එක්ක කතාබහ කරනවා. කතාබහ කරලා එයාලාට ලස්සනට කරුණු කියලා දෙනවා. අද කාලෙ බෑනෙ මේවා. බුදුරජාණන් වහන්සේ ඒ සියලු දෙනා මැඩපැවැත්තුවානෙ. පුදුම සහගතයි මේ සිද්ධිය. බුදුරජාණන් වහන්සේ සියලු දෙනා මැඩ පැවැත්තුවා. ඉතින් ඒ නිසා දැන් පාථික සූත්‍රයේත් එහෙමනෙ. දැන් බලන්නකො පාථික පරිබ්‍රාජකයා පාථිකත් එක්ක ඔහු බුදුරජාණන් වහන්සේට අභියෝග කරනකොට ඒ ආරාමෙටම බුදුරජාණන් වහන්සේ වැඩම කලා. ආරාමෙට වැඩම කරලා ඒ ආරාමෙදිම ධර්ම දේශනා කරලා අසූහාරදාහක් මගඵල ලබනවා. දැන් මෙතනත් නිගණ්ඨයන් අතරට ගිහිල්ලා නිගණ්ඨයොත් එක්ක කතාබහ කරනවා. ඔවුන්ට ඔවුන්ගේ ධර්මයේ තියෙන නිස්සාර බව කියලා දෙනවා. දැන් පුදුම කරුමය කියලා කියන්නෙ පින්වත්නි බලන්න බුද්ධ කාලයක් වෙලා ගිජ්ජකූට පර්වතය ළඟ ඉඳලා බුදුරජාණන් වහන්සේ රහතුන් වහන්සේලා දැකලා, බුදුරජාණන් වහන්සේ ඔය මේ දැකලා, බුදුරජාණන් වහන්සේත් එක්ක කතා බහ කරලා නිගණ්ඨයන්ට ඒත් පැවිදි වෙන්න බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වෙන්නවත් හිතෙන් නෑ, පුදුම සහගත දේවල්. රජගහනුවර ඉපදිලා, ගිජ්ජකූටය ළඟම ඉඳලා විමුක්තියක් හොයාගෙන යන්න ඕන කියන සිතිවිල්ලකුත් ඇවිල්ලා, බුදුරජාණන් වහන්සේ ශාස්තෘන් වහන්සේ විදියට මුණ ගැහෙන් නෑ. තමන්ගේ ආගමට විරුද්ධ කෙනෙක් විදියට මුණ ගැහෙන්නෙ. පුදුම සහගතයි. ඉතින් ඒ නිසා අපි සත්පුරුෂයන් වීමේ අදහසින්, චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගන්නවා කියන අදහසින් පින් දහම් කුසල් දහම් රැස් කරලා තියෙනවා නම් අන්න එකතු වෙනවා. ගොඩාක් ආච්චි අම්මලාගෙ දැන් නම් ටික ටික ධර්මය අහන නිසා පිරිසක් හැදිලා තියෙනවා, එහෙම නැත්නම් ගොඩාක් ආච්චි අම්මලා කියන්නෙ අනේ බුදුන් දැක නිවන් දකින්න ඕන, බුදුන් දකින්නම ඕන කියලා. උඹ බුදුන් දැකපං කියලනෙ සෙත් පතන්නෙ. ඉතින් මේ නිගණ්ඨයො බුදුන් දැක්කානෙ. දැක්කද කොච්චර ඒ වාගේ අය ජීවිතය වරද්දගෙන තියෙන හැටි, වෙන ආගම්, වෙන දෘෂ්ටි නිසා. ඒ නිසා බුද්ධ කාලෙ හිටියත් වෙන දෘෂ්ටියකට පත්වෙන්නැතිව ඉන්න තියෙනවා නම් ඒක ඔහුගේ ලොකුම හැකියාවක්. ඉතින් ඒ නිසා අද මේ කාරණාව තේරුම් ගන්න. එතකොට මේ පාථික සූත්‍රයේ අවසානෙට ඒ සූත්‍ර දේශනාව කරලා බුදුරජාණන් වහන්සේ ඔහුට කියන්නෙ හිතේ පැහැදීමවත් රැකගෙන ඉන්න කියලා. ඉතින් ඒ නිසා

අපිත් ඔබට කියන්නෙ මේ ධර්ම දේශනා අහද්දි හිතේ පැහැදීමක් ඇතිවෙනවානෙ. ඒ පැහැදීම රැකගෙන ඉන්න. ලොකු දේවල් නැතත්, තුණුරුවන් ගැන පැහැදීමවත් රැකගන්න. නැත්නම් ලොකු දේවල් කෙරෙහි හඹාගෙන ගිහිල්ලා අවසානෙ හිතේ තියෙන පැහැදීමත් නැතිවෙලා යනවා. අවසානෙ නිකං මතවාද ගොඩකින් හිත අඳුරු වෙලා මැරිලා යන්න සිද්ධ වෙනවා. ඔබට එවැනි දෙයක් සිද්ධ නොවේවා කියන අදහස අපිට තියෙනවා. ඒ නිසා අපි තුණුරුවන් පිළිබඳව මේ ධර්ම දේශනා අහද්දි අපේ හිතේ යම් චිත්ත ප්‍රසාදයක් ඇතිවෙනවා නම් ඒ චිත්ත ප්‍රසාදය නිවන් දකිනා මොහොත දක්වාම ආරක්ෂා කරගැනීමට ආරක්ෂාව ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නෙ පින්වත් ඔස්ට්‍රේලියාවේ කල්‍යාණ මිත්‍ර පිරිසක්. සියලු දෙනාගේම අදහස අපිට ගෞතම බුද්ධ ශාසනය දායාද කළ අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේට කෘතගුණ පූජාවක් විදියට මේ ධර්මදානය සිද්ධ කරන්න. ඉතින් පසුගිය කාලයේ ලක්දිව එකලු කල හිරු මඬල කියන මාතෘකාවෙන් රාත්‍රී කාලයේ රූපවාහිනියේ විකාශනය වෙන ආකාරයට අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේ ලංකාවට වැඩම කරලා මේ ලංකාවේ ඇති කල දහම් ප්‍රබෝධය, මනුෂ්‍යයන්ට පිහිට වූ ආකාරය අපි විස්තර කලා. එතකොට ඒ හැම එකක්ම මිහිඳු මහරහතන් වහන්සේට උපහාර පිණිස. ඉතින් අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේට අපි මේ රැස් කරගන්න සියලූම පින අපේ ප්‍රතිපදාව, ධර්ම ශ්‍රවණය උපහාර පූජාවක් සේ සිරිමා කමල් අභියස පූජා වේවා කියලා අපි කෘතගුණ දක්වමු. සෑම කෙනාම හැමදිනකම රාත්‍රියේත්, ඒ වගේම බුදුන් වඳින වෙලාවටත් අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේ අනිවාර්යයෙන් සිහි කරන්න. අපගේ පරම පූජනීය ආදී ගුරුදේවෝත්තම, අපගේ ධර්මදූතයාණන් වහන්සේ, අනුබුදු මිහිඳු මහරහතන් වහන්සේ. ඉතින් සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වෙලා මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම මිය පරලොව ගිය චිත්‍රා ජයසූරිය මැණියන්ට, ඒ වගේම සීබට් හෙට්ටිආරච්චි පියාණන්ට සහ දායකත්වය දැරූ පින්වතුන් නමින් මියපරලොව ගිය සියලූ ඥාතීන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම මියපරලොව ගිය සියලූම දෙනා පරලොව සැපයට පත්වේවා. පරම පූජනීය ගුරුදේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වී ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් නිරෝගී සුවපත් භාවයට දීර්ඝායුෂ සම්පත්තියට පත්වේවා. ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සඟරුවනට මේ පින් බලයෙන් ධර්මාවබෝධයම

සැලසේවා. ඒ වගේම දායකත්වය දැරූ පින්වතුන්ගේ සුජීවත්ව සිටින දෙමව්පියන්ට මේ පින් බලයෙන් නිදුක්, නිරෝගී, දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ත්‍රිවිධ හමුදාවේ සියලු දෙනාටත්, ඒ වගේම කොරෝනා වෛරසය හේතුවෙන් පීඩාවට පත්වී සිටින සියලු දෙනාට මේ පින් බලයෙන් නිරෝගී සුව ඒකාන්තයෙන් සැලසේවා. ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර ඉගෙනුම ලබන පින්වත් අමන්ත ප්‍රියානාත්, තමරූ ජයලත්, රනිඳු තිවංක, භානුක අනුරාධ, සෙනිත් ප්‍රනාන්දු ඒ වගේම සචින්තා ජයලත්, සජිත් දිලීප, සහන් රණසිංහ, අසංක හෙට්ටිආරච්චි සහ රනිත් ගමගේ යන කල්‍යාණ මිත්‍ර පිරිසට මේ පින් අනුමෝදන් වේවා. ඔබ සියලු දෙනාටත් මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් ශ්‍රද්ධා රූපවාහිනියේ ලක්විරු ගුවන් විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාටත් පින් අනුමෝදන් වේවා. සියලු දෙනාට උතුම් සම්බුදු සරණින් සැනසී ගෞතම බුද්ධ ශාසනයේ උපන් පහන් සිත රැකගෙන පිහිට පිළිසරණ සාදාගැනීමට මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=LtSRT4_L4oo&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=64

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේත් අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් අපගේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ගුණ කඳ ඉගෙන ගන්නවා. අද දවසේ මේ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ පින්වත් කුසුමා කාරියප්පෙරුම මහත්මිය ඒ වගේම දිලීප රණතුංග, චාමර රණතුංග, නිර්මාණී රණතුංග යන දූදරුවන් ඇතුළු ඥාතීන් එකතු වෙලා. එතකොට සියඹලාපේ දකුණ, අංක 38/12 නිවසේ පදිංචිව සිටින මේ පින්වතුන් මියපරලොව ගිය රණතුංග රාමනායක මුදියන්සේගේ රත්නායක පියාට පින් අනුමෝදන් කරන්නටත් බලාපොරොත්තු වෙනවා. ඉතින් අද දවසේ මේ ධර්ම දානයෙන් ඔබට රැස් වෙන අනන්ත අප්‍රමාණ ධර්ම දානමය පින ඔබටත් මියපරලොව ගිය අයටත් සියලු දෙනාට යහපත පිණිස පවතිනවා බොහෝ කාලයක්. ඉතින් පින්වත්නි මෙතරම් බුදුරජාණන් වහන්සේ ගැන කියලා දෙන්නේ මෙතරම් දහම් වැඩසටහන් තියන්නෙ සිත පහදවා ගැනීම පිණිස. බුදුරජාණන් වහන්සේ ගැන ධර්මය ගැන, සංඝයා ගැන, තුණුරුවන් ගැන මේ බුද්ධ ශාසනය ගැන හිත පහදවා ගන්න. අනේ මෙහෙම එකක් මේ කියලා. ඔබට මතකද මීට කලින් කරපු වැඩසටහනක පාථික සූත්‍රයේ අවසානයට විස්තර කරනවා භාගීව කියන පරිබ්‍රාජකයාට තාපසයාට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඔබ ඔබට ඇතිවෙච්ච පැහැදීම රැකගන්න කියලා. දැන් ඔහු සුභවිමෝක්ෂය කියන ඒ දහම් ප්‍රතිපදාවේ උත්තරීතර ගුණයක් උපද්දවගන්න හැටි අහනවා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඔබට ඒක කරන්න අමාරුයි. ඒ නිසා ඔබ දැන් ඔබට ඇතිවෙච්ච පැහැදීම රැකගන්න කියලා. එතකොට අද අපිට තේරෙනවා මාර්ගඵල විශේෂයෙන් අර්හත්වය ආදී උතුම් මාර්ග ඵල මනාව සතිපට්ඨානයෙන් තුන් තිස් පැයේම සතිපට්ඨානයේ සිත පිහිටුවාගැනීම හරි අමාරුයි, දුෂ්කරයි. එතකොට මාර්ගයේ ප්‍රතිපදාව දුෂ්කරයි කියලා අවංකව තේරෙන කෙනා අනිවාර්යයෙන් රැකගන්න තියෙන එකම එක දේ පැහැදීම. අද කාලෙ රැකගන්නම ඕන පැහැදීම. එතකොට බලන්න ඔබ හින්දූන්, හින්දු දේව ඇදහීම් කෙරෙහි බොහෝ භක්තිමත්. හරී භක්තිමත්. දැන් කොච්චර භක්තිමත් ද කියනවා නම් දෙමළ ළමයෙක් පාසලකට යනකොට ඒ දෙවියන්ගෙන් අර ... නළලේ ගාගෙන සුදු පාටට මොට්ටුවක් තියාගෙන ඒ ළමයි යනවා. ගිහිල්ලා හැමවෙලාවෙම දෙවියන්ව සිහි කරනවා. දෙවියන් දැක්ක තැන හිස පාත්කරනවා. තමන්ගේ හදවත ස්පර්ශ කරනවා. එතකොට ඒ වගේ දේවල් කරනවා, ඒ අය කිසිසේත් ඒවට ලැජ්ජාවක් නෑ. එතකොට අපේ සිංහල

බෞද්ධ මිනිස්සු පිරිත් නූලක් පවා තමන්ගේ අතේ තියෙනවාට සමහර අය කැමැති නෑ. සමහර සිංහල බෞද්ධ පාසල් වලම ස්කෝලෙන්ම කියනවා පිරිත් නූල් අයින් කරපං කියලා. කලිසං සාක්කුවේ හොරෙන් ෆෝන් එක තියෙනවා, බෑග් එකේ ෆෝන් එක තියෙනවා. ඊළඟට මත්ද්‍රව්‍ය පෙති තියෙනවා, ඒවා අයින් කෙරිලි මොකුත් නෑ. අතේ පිරිත් නූල තිබ්බොත් ඒකට කැමැති නෑ. මොකද මං ළඟට ඇවිල්ලා ළමයි කියන විස්තර මං මේ කියන්නෙ. එතකොට මොකද මේ වෙනත් ආගම් වල තියෙන භක්තිය වෙනත් ආගම් වල තියෙන ඒ ආගම් ඇදහිල්ල දැන් අපි කියන්නකො මේ මරාගෙන මැරෙනවානෙ ආගම වෙනුවෙන්. ඒ වගේ භක්තිමත් බවක් ඒ මිනිස්සුන්ට තියෙන්නටත් අපේ මිනිස්සුන්ට ඇතිවෙන ශ්‍රද්ධාව පැහැදීම තත්පරේට නැතිවෙන්නත් හේතුව කුමක් ද. ඔබ හොඳට කල්පනා කරලා බලන්න, පැහැදීම ඇතිවෙනවා නැතිවෙනවා, එතකොට හේතුව මොකක්ද මේ ඉක්මණට පැහැදීම නැතිවෙන්න. පින්වතුනි මේකට විශාල ප්‍රශ්නයක් තියෙනවා. පුදුම සහගත ප්‍රශ්නයක් තියෙනවා. මොකක්ද ඒ? වෙන අයගේ ඒ ආගම් ඇදහීම, ඊළඟට යන්ත්‍ර මන්ත්‍ර ස්තෝත්‍ර ඒ වගේම යාදිනි, භජන් එයාලගේ ආගම අදහන ක්‍රමයක් තියෙනවානෙ. ඒවත් එක්ක නොපෙනෙන බලවේගයක් බැදිලා තියෙනවා. ඒ බලවේගය බැදිලා තියෙන නිසා එක මන්ත්‍රය කීපවිටක් සජ්ඣායනා කරනකොට එක දිගට කියාගෙන යනකොට, ඒක එක දිගට කියන්නම හිත නැවෙනවා. ඒක නතර කරන් නෑ එක දිගටම කියාගෙන යනවා. හේතුව ඒ මන්ත්‍රයත් එක්ක, ඒ යාදින්නත් එක්ක, ඒ භජන් කීමත් එක්ක, ස්තෝත්‍ර කීමත් එක්ක යම්කිසි බලවේගයක් ඔහුත් එක්ක සම්බන්ධ වෙනවා, ඒ බලවේගයට කියන්න තියෙන්නෙ කිසි ප්‍රශ්නයක් නෑ, දේවාලෙකට ගියාට පස්සෙ ටික දොහක් යන්නැතිකොට අර ඇතුලෙන් බලවේගයම හිතට දෙනවා පලයන්, ආපහු පලයන්. කොහොමද ලස්සනට ඒ ඒ තැන්වලින් අයින් වෙන්නැතිව තියෙන හැටි. අද මේ රුවන්වැලි සෑය වැඳලා එනවා, ආයෙ යන්න වෙන්නෙ අවුරුද්දකින් හමාරකින්. මේ බණ ටිකක් අහනවා ආයෙ අහන්න වෙන්නෙ, ආයෙ කවදා අහන්න වෙයිද දන්නෙ නෑ. එතකොට රඳින් නෑ. හේතුව අපිට ඒ වාගේ සපෝට් එකක් නෑ, නැවත නැවත කුසලයට දහමට හිත පවත්වන්න, මොකද මේ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ මේ චිත්ත ප්‍රසාදය නිකෙලෙස් පරම පිවිතුරු තුන් ලෝකයට අග්‍ර උත්තමයෙක් කෙරෙහි පැහැදීම තියෙන්නෙ. ඒ පැහැදීම රදෙන්න දෙන්නෙ නෑ. පැහැදීමක් කෙනෙකුට ඇතිවෙනවාද එයාට හතරවටෙන්ම ගහනවා. එයාට යාගන්න බැරිවෙන්න වැඩේ වෙනවා. අනිත්

ඒවා නෑ. යන්ත්‍ර මන්ත්‍ර ගුරුකම් කරන අය ඒක ජීවිතේට කරගෙන යනවානෙ. මැරෙනකල් යන්ත්‍ර මන්ත්‍ර ගුරුකම් කරනවානෙ. නමුත් අපේ අය පිරිතකට යන්න බලන්න. ඔන්න ටිකක් පිරිත් කියනවා. වයසට යනකොට කියනවා හරි අමාරුයි බං. අපිට තේරෙන්නෑ, දැන් අලුතින් ටිකක් පුරුදු වෙනිල්ලා. මැරෙනකල්ම පිරිත් කියනවා කියලා එකක් නෑනෙ. මැරෙනකල්ම මහාසෑය වදිනවා කියලා එක්ක නෑනෙ. මැරෙනකල්ම බණපොත් කියවනවා කියලා එකක් නෑනෙ. මැරෙනකල්ම බණ අහනවා කියලා එකක් නෑනෙ. නමුත් වෙදකම් දන්න කෙනා, ඊළඟට යන්ත්‍ර මන්ත්‍ර දන්න කෙනා ඒවා දන්න අය ඒවා මැරෙනකල්ම කරනවා. කොච්චර බලන්න, ඊළඟට අපි කියමු ඔය නිකං හේව්සි තේවාවක් ගැහුවත් එයත් ඒක මැරෙනකල්ම කරනවානෙ. ඇටසැකිලි වලින් තට්ටු කරනවානෙ බෙරයට. මේ අපේ බුද්ධ ශාසනේනෙ මේවා කරගන්න බැරි. හේතුව ඒවත් එක්ක ඒ ශිල්පත් එක්ක එයාලා ලෝකයෙන් බලවේගයක් එක්ක බැඳිලා ඉන්නෙ. ඒක දිගටම යනවා. අපිට බුදුරජාණන් වහන්සේ කෙරෙහි තියෙන පැහැදීම තියෙන කෙනාට ඒ ශ්‍රද්ධාව ස්ථාවරව පිහිටලා තමා තුළින් ඉන්ද්‍රිය ධර්ම තුළින් උපදින බලයෙන් එයා මෙහෙයුවෙ නැත්නම් එයාගේ පැහැදීම රඳෙන්න දෙන්නෙ නෑ. ඒක තේරුම් ගන්න. අමාරුවෙන් යන්න තියෙන්නෙ. හිත පහදවාගන්න තියෙන්නෙ අමාරුවෙන්. බුද්ධ ශාසනයේ ගමන් කරන්න තියෙන්නෙ අමාරුවෙන්. හේතුව මේක ලෝකයේ ශ්‍රේෂ්ට දෙයක් නිසා. ලොව ශ්‍රේෂ්ට දෙයක් නිසා. දෙවියන් බඹුන් පා ළඟ වැටෙනා නිසා. සියලු ලෝකයන් ඉක්මවා යන නිසා. ඒ නිසා ඒ පාථික සූත්‍රයේ තියෙන විදියට ඔබට යම් බුදුරජාණන් වහන්සේ ගැන යම් පැහැදීමක් තියෙනවාද, හම්මේ මේ බණ ටිකත් අහලා මෙච්චර දැන් යන්නෙ අපි අද හැටපස්වෙනි බුදු සරණේ හැටපස් වෙනි වැඩසටහන. මෙච්චර බණ ටිකක් අහලත් තුණුරුවන් ගැන පැහැදීම ඇති වෙන් නැත්නම් ශාස්තෘන් වහන්සේ ගැන ආදරය, සෙනෙහස ඇතිවෙන් නැත්නම් ඒක නම් වැඩක්ම නෑ ඉතින්. ඒ නිසා යම්කිසි කෙනෙකුට, සමහර අය ඉන්නවා මේ දේශනා එක දිගට අහනවා. එතකොට එයාගේ හිතේ පැහැදීමම ඇතිවෙනවා. ඒ පැහැදීම තුළින්නෙ ඊළඟ දේශනාව අහන්න එයාගෙ හිත නැමෙන්නෙ. ආන්න ඒ පැහැදීම නැති කරගන්න එපා. බුදුරජාණන් වහන්සේ පවා වදාළේ අමාරුයි නම් මේ දුෂ්කර ප්‍රතිපදාව, කරගන්න එයාට නොහැකියාව තියෙනවා නම් පැහැදීම වත් රැකගන්න ඕන. ඒ නිසා ඔබට බුදුරජාණන් වහන්සේ ඒ කාලයේ තමන්ගේ ඒ බුද්ධ ශාසනයේ ලෝකයේ මනුස්සයන්ගේ යහපත පිණිස දේශනා කරද්දි උන්වහන්සේ මූණ දුන්නු ප්‍රශ්න, උන්වහන්සේ

මුණුදුන්නු අභියෝග ගැන අපි මේ දවස්වල කතා කරන්නෙ. පුදුම හිතෙනවා බුදුරජාණන් වහන්සේගේ නිර්භීත බව, උන්වහන්සේ නම් ඒකාන්තයෙන් ශාක්‍යසිංහ, ආදිත්‍යබන්ධු, ත්‍රෛලෝකනාථ, විශාරද, දසබලධාරී වූ භාග්‍යවතුන් වහන්සේමයි. දැන් ඔය සුනක්ඛත්ත සිවුරු ඇරලා ගිහිල්ලා වෙච්ච් ඇබැද්දියක් අපි මීට කලින් කතා කලේ. අද මං කල්පනා කලා ඒ වගේම සිවුරු ඇරලා ගියපු කෙනෙක් කරපු දෙයක් භාග්‍යවතුන් වහන්සේ සංසිඳවපු විදිය දේශනා කරන්න ඕන කියලා. මේ දේශනාව තියෙන්නෙ අංගුත්තර නිකායේ තික නිපාතයේ. පින්වතුනි බුදුරජාණන් වහන්සේ ඒ දවස්වල වැඩ සිටියේ රජගහනුවර ගිජ්ජකූට පර්වතයේ. ඒ කාලයේ සරභ කියන පිරිවැජියා බුද්ධ ශාසනයේ මහණ වෙලා සිවුරු හැරියා. එතකොට මේ සිවුරු හරිනවා කියන එක බුද්ධ කාලෙත් සිද්ධ වෙලා තියෙන එකක්. ඊටපස්සෙ රජගහනුවර පිරිස මැද මේ සරභ කියන පිරිවැජියා කියාගෙන යනවා මම සිවුරු ඇරියෙ නිකං නෙවෙයි. මම ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ළඟ ශාක්‍ය පුත්‍ර ශ්‍රමණයන්ගේ ධර්මය මම ඉගෙන ගත්තා. ඉගෙන ගෙන මම හොඳට තේරුම් ගත්තා. අවබෝධ කලා. මං අවබෝධ කරගෙන තමයි සිවුරු ඇරියෙ. මට ආයෙ ඒකෙ රහසක් නෑ. මම ප්‍රගුණ කරපු නැති දෙයක් නෑ ඒ දහමෙ කියලා දැන් මේකා කියනවා, සරභයා. ඊටපස්සෙ මෙයා දැන් රජගහනුවර මිනිස්සු මැද මේක කිය කියා යනකොට - බලන්න බුද්ධ කාලෙ වෙලා තියෙන දේවල් - සංඝයා පිණ්ඩපාතෙ වඩිනකොට මේකා මිනිස්සු වටකරගෙන මේ කියන කාරණාව ඇහුනා. දැන් අද කාලෙ වුනත් කියන්නෙ ඔය අපිත් මහමෙව්නාවෙ ගියා, මහමෙව්නාවෙ හැටි අපිත් දන්නවා, අපිත් ඔහේ මහණ වෙන්න ගිහින් ඉදලා තියෙනවා, මෙහෙමයි කියලා ලොකුවට දාන්නෙ කතාව. මේ බුද්ධ කාලෙත් වෙලා තියෙනවා. සරභයා ඊටපස්සෙ මොකද කරන්නෙ, මෙයා මේ කියන කතාව සංඝයාට අහන්න ලැබිලා, භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ළඟට සංඝයා උදේ පිණ්ඩපාතෙන් පස්සෙ පැමිණෙනවා. පැමිණිලා බුදුරජාණන් වහන්සේට කියා හිටිනවා, ස්වාමීනී මේ ළඟදි සිවුරු හැරපු සරභ පිරිවැජියා මිනිස්සු පිරිවරාගෙන රජගහනුවර කතාවක් කියාගෙන යනවා මං මේ ආවට ගියාට සිවුරු ඇරියා නෙවෙයි, මට ඔක්කෝම තේරෙනවා, වැටහෙනවා, ශ්‍රමණ ශාක්‍ය පුත්‍රයන් වහන්සේලාගේ ධර්මය මමත් අවබෝධ කරගෙන තමයි මේ සිවුරු හැරියෙ, මට ආයෙ කරගන්න දෙයක් නෑ කියලා කියාගෙන යනවා. අනේ භාග්‍යවතුන් වහන්ස අපේ භාග්‍යවතුන් වහන්සේට කරදරයක් නැත්නම්, අපහසුවක් නැත්නම් ඔය සරභ ඉන්නෙ මේ ළඟ තියෙන

සප්පිණිකා කියන නදී තෙර පිරිවැජි ආරාමයේ ඔය සරභ ඉන්නෙ. භාග්‍යවතුන් වහන්සේ එතෙන්ට වැඩියොත් හොඳයි. අනුකම්පා කරලා වඩින සේක්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ නිශ්ශබ්ද වෙලා ඇරයුම පිළිගත්තා. එදා හවස් කාලයේ භාවනාවෙන් නැගිටලා බුදුරජාණන් වහන්සේ සප්පිණිකා නදීතීරයේ සරභ පිරිවැජියාගේ ආරාමයට වැඩම කලා. වැඩම කරලා උන්වහන්සේට ආසනයක් පැනෙව්වා. ඉතින් සරභත් පැත්තකින් ඉඳගත්තා බුදුරජාණන් වහන්සේට ආසනය පිළියෙල කරලා. බුදුරජාණන් වහන්සේ දැන් සරභගෙන් අහනවා. දැන් එතකොට අනිත් සංඝයා, ඊළඟට තව පිරිවැජියෝ, අනිත් තාපසයන්, සංඝයා නෙවෙයි බොහෝ විට පිරිවැජියො, ඔක්කොම ටික එකතු වුනා දැන් මෙතෙන්ට. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ සරභගෙන් අහනවා දැන් එම්බා සරභ, නුඹ රජගහනුවර මිනිස්සු මැද කිය කියා යනවා කියන්නෙ, මම මේ සිවුරු හැරියෙ ආවට ගියාට නෙවෙයිය, බුද්ධ ශාසනයේ තියෙන ශාක්‍ය පුත්‍ර ශ්‍රමණයන්ගේ ධර්මය අවබෝධ කරලා වැටහිලා ඊටපස්සෙයි මේ සිවුරු හැරියේ කියලා අවබෝධයක් ඇත්තෙ කියලා ඔබ කියාගෙන යනවා කියන්නෙ ඇත්තද. එහෙම එකක් ඔහේ කියනවා කියන්නෙ ඇත්තද? මෙහෙම ගියපු ගමන් සම්පූර්ණයෙන් ඇත්තද සරභ උඹ මෙහෙම කියනවාද කියපු ගමන් සරභ ලොක්ඩවුන් වුනා, නිශ්ශබ්දයි. කරකියාගන්න දෙයක් නෑ. ඔළුව පහතට හරවගත්තා, බිම බලාගත්තා, උත්තර නෑ. දැන් වෙන තැන්වල නම් එහෙයි ස්වාමීනී හරි කියනවා. මෙතන එහෙයි ස්වාමීනීත් නෑ. ඊටපස්සෙ දෙවෙනි වතාවටත් බුදුරජාණන් වහන්සේ අහනවා, ඈ සරභ, සරභ උඹ කිව්වා කියන්නෙ මම මේ ධර්මය අවබෝධ කරලයි මේ සිවුරු හැරියෙ කියලා. සරභ මම ශාස්තෘන් වහන්සේනෙ. එතකොට සරභ නුඹ අවබෝධ කරගත්තු ධර්මය කියන්න දැන්. එතකොට ඔහේ අවබෝධ කරගත්ත දේ අඩුවක් තියෙනවා නම් මම ඉතුරු ටික කියන්නම්. ඔබ සම්පූර්ණයෙන්ම අවබෝධ කරලා තියෙනවා නම් සාදු සාදු කියලා මම අනුමෝදන් වෙන්නම් කිව්වා. සරභ, මේ ඒ නිසා මොකක්ද මේ කියලා කිව්වා. දෙවෙනි වතාවටත් සරභ ඔළුව පාත් කරගෙන නිහඬවුනා. තුන්වෙනි වතාවටත් බුදුරජාණන් වහන්සේ සරභගෙන් අහනවා, ඈ සරභ, මං මේ අහන්නෙ නුඹ අවබෝධ කරගත්තු ධර්මය මොකක්ද, ඒකෙ යම්කිසි අඩුවක් අඩුපාඩුවක් තියෙනවා නම් මං ඒක පුරවලා දෙන්නම්, ඉතුරු ටික. එහෙම නැත්නම් ඔබ සම්පූර්ණයෙන් මේ ධර්මය අවබෝධ කරලා නම් සාදු සාදු කියලා මම ශාස්තෘන් වහන්සේ නමක්නෙ, ඒක අනුමෝදන් වෙන්නම් කිව්වා. ඒ වතාවෙත් සරභ නිහඬ වෙලා, අධෝමුඛ වෙලා ඔළුව පල්ලෙහාට

හරවගෙන ඔහේ ඉන්නවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවෙ, දැන් මෙයාට කිසිම වැටහීමක් නෑ. අත්තක්කන්ධො, එයාගෙ කඳ පහතට හරවලා, ඊළඟට මෙයාට හිතාගන්න බැරිව, ඊළඟට ඔලුව පහතට හරවගෙන වැටහීම් රහිතව ඉන්නවා. වචන එන් නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, පිරිවැජිය, පිරිස පිරිවරාගෙන ඉන්නවානෙ. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා එම්බා පිරිවැජියෙනි, සම්මා සම්බුද්ධයි කියලා මම ලෝකෙට ප්‍රතිඥා දීලා තියෙනවා. කවුරුහරි කිව්වොත් භාග්‍යවතුන් වහන්සේ සම්මා සම්බුද්ධයි කියලා ප්‍රතිඥා දුන්නට අහවල් අහවල් දේ අවබෝධ කරලා නෑ, අහවල් දේවල් භාග්‍යවතුන් වහන්සේට තේරෙන්නෙ නෑනෙ කියලා කිව්වොත් මම එයා ළඟට යනවා. මම ගිහිල්ලා අහනවා, හරි මොකක්ද මම අවබෝධ කරලා නැත්තෙ, කුමක්ද, නුඹ මේ කාරණාව කියන්නෙ මොන කාරණාවක් හේතුවෙන්ද කියලා කරුණු සහිතව මම ඒක විමසුවොත් එහෙම ඒ මනුස්සයාට ඒකට උත්තරයක් දෙන්න බෑ. එතකොට එයා කරන්නෙ අඤ්ඤෙන අඤ්ඤං පටිචරංති, ඒ කියන්නෙ තව එකකින් තව එකක් වහලා දානවා. කෝපංති දෝසංත, කෝපයත් ද්වේෂයත් ප්‍රකාශ කරනවා. වෙන දෙයකින් වහනවා, තරහා ගන්නවා, එහෙම නැත්නම් කරන්නෙ මොකාක්වත් කරකියාගන්න බැරිව නිකං බිම බලාගෙන බකංනිලාගෙන ඉන්න වෙනවා හරියට මේ සරභයා වගේ කිව්වා, මේ ඉන්නෙ දැන්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ - දැන් මේ වාගේ දේවල් පිරිවැජි ආරාම වලටම ගිහිල්ලා තාපසයො ඉස්සරහා තියාගෙන මේ විදියට දේශනා කරනකොට ආයෙ ඒ කාලෙ හිතාගන්න බෑ. දැන් අද කාලෙ අපේ උන්නාන්සේ පල්ලියකට ගියොත් උන්නාන්සේලා ඔළුව පාත් කරනවානෙ. අද කාලෙ බලන්න, පුදුම සහගතයි. අද කාලෙ උන්නාන්සේලා දේවාලෙකට ගියොත් අනිවාර්යයෙන් නළලෙ පොට්ටුවක් තියාගෙනමයි එන්නෙ. භාග්‍යවතුන් වහන්සේගේ උතුම් ශාස්තෘ සම්පත්තිය දිහා බලන්න, පුදුම සහගතයි. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා එම්බා පිරිවැජියෙනි මම ලෝකෙට ප්‍රතිඥා දීලා තියෙනවා මම නිකෙලෙස් කෙනෙක් කියලා. ආශ්‍රව ක්ෂය කරපු කෙනෙක් කියලා. එතකොට කවුරුහරි කිව්වොත් භාග්‍යවතුන් වහන්සේ ආශ්‍රව ප්‍රහාණය කලා කිව්වට, කෙලෙස් ප්‍රහාණය කලා කිව්වට ඒවා ප්‍රහාණය කරලා නෑ කියලා කිව්වොත් මම එයා ළඟට යනවා. මා ප්‍රහාණය නොකරපු කෙලෙස් කුමක්ද, කුමන කරුණු සහිතවද ඔබ මේක කියන්නෙ කියලා මම කරුණු සහිතව එයාගෙන් ඇහුවොත් එහෙම එයාට උත්තර දීගන්න බෑ. ඔළුව පාත් කරගන්නවා. අනිවාර්යයෙන් වෙන එකක්

කියලා ඒක වහන්න ඉඩ තියෙනවා. එහෙම නැත්නම් තරහ ද්වේෂය පළකරන්න ඉඩ තියෙනවා. වැටහීම් රහිතව බිම බලාගෙන ඉන්න ඉඩ තියෙනවා, ගත්තොත් එහෙම මේ සරභයා වගේ. මේ බලන්න මේ ඉන්නෙ. උත්තර නෑ. ඉතින් සරභත් ඇවිල්ලා මං අවබෝධ කරලා තියෙන්නෙ කිව්වානෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පින්වත් පිරිවැජිවරුනි, එම්බා පිරිවැජියෙනි, බුදුරජාණන් වහන්සේ තථාගතයන් වහන්සේ ධර්මය දේශනා කලා උතුම්ම අවබෝධය පිණිස, මාර්ගඵල අවබෝධය පිණිස ධර්මය දේශනා කලා. ඉතින් යම් කෙනෙක් කිව්වට ඔය කිව්ව ප්‍රතිපදාව ඔය මාර්ගයේ හැසිරුණාට එයින් ප්‍රතිඵල ලබන්න බෑ කියලා කවුරුහරි කිව්වොත් මං එයාගෙන් අහනවා මොන කරුණක් හේතු කරගෙන ද, මොන හේතු ඇතිවද මෙහෙම කියන්නෙ. මොකක්ද ඒකට හේතුව, කියලා මම එයාගෙන් ඇහුවොත් එහෙම එයාට උත්තර දීගන්න බෑ. එක්කො වෙන එකක් කියලා ඒක වහලා දායි, නැත්නම් තරහයි, ද්වේෂයයි, කෝපයයි පහළ කරයි. නැත්නම් අධෝමුඛ වෙලා ඔහේ තකබීර් වෙලා ඔළුව බිම බලාගෙන ඔහේ ඉදියි කිව්වා මේ සරභයා වගේ, මේ ඉන්නෙ. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුද්ධත්වයට අභියෝග කරන්න බෑ. උන්වහන්සේගේ නික්ලේශී ජීවිතයට අභියෝග කරන්න බෑ. උන්වහන්සේගේ යම් ප්‍රතිපදාවක්, ආර්ය අෂ්ටාංගික මාර්ගයක් දේශනා කලා ද, මාර්ග ඵල අවබෝධය පිණිස, නිවන් අවබෝධය පිණිස ඒකට අභියෝග කරන්න බෑ. ඒක ඒ විදියටම තමයි සිද්ධ වෙන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ භාග්‍යවතුන් වහන්සේ සප්පිණිකා නදී තෙර ආරාමයේ මේ අයුරින් තුන් වරක් සිහනාද පවත්වලා තුන් වරක් සිංහ නාද කලා. අර සරභයා බිම බලාගෙන ඉන්න අතරෙ පිරිවැජියො වටවෙලා අහගෙන ඉන්න අතරෙ, බුදුරජාණන් වහන්සේ ඔය විදියට තුන් වරක් සිංහ නාද කරලා ඒ පිරිවැජියන්ට පේන්නම ආකාසෙට පැන නැගිලා ආකාසෙන් ගිජ්ජකූට පර්වතයට වැඩියා. කොහොම තියෙන්න ඇති ද. අර පිරිවැජියො ටික සරභයා වට කරගත්තා. බුදුරජාණන් වහන්සේගේ ඒ ශාසනයෙන් සිවුරු හැරපු ඒ සරභයා වට කරගෙන මේ අය දිගට හරහට බැටදෙන්න ගත්තා. අතින් පයින් නෙවෙයි වචන වලින්. කියනවා ඒයි සරභ, මේ මහවනයේ ඉන්න නාකිවෙච්ච, ජරාපත්ව, හීන, දීන, තුච්ඡ හිවලෙක්. ඒ හිවලා කට්ටියට කියනවා මං සිංහනාද කරන කෙනෙක් කියලා සිංහනාද කරනවා කියලා අර වයසට පලච්ච නාකි හිවලෙක්ගෙ හඬම නගනවා වගේ තෝ මොකක්ද දැන් පහුගිය දවස්වල කිය කියා හිටියේ, දැන් වෙච්චි දේ මොකක්ද තොට. ඈ සරභ, මෙයා මොකද කරන්නෙ, කියනවා

කිකිළියෙක් චූටි කුකුළ් පැටියෙක් මහා කුකුළෙක්ගේ හඬ අහලා මමත් හොඳ කුකුළ් හඬ නඟනවා කියලා ඈ සරභ චූටි කුකුළෙක්ගේ කෙකර ගෑම නේද ඔය උඹ කලේ කියලා ඇහුවා. ඊටපස්සෙ කිව්වා උඹ මොකද කරන්නෙ සිංහනාද නගනවා කියලා නරිහඬම නැගුවා නේද, ඊටපස්සෙ කියනවා එම්බා සරභ, කියනවා ගවමඩුවක ඉන්නවා කියනවා වෘෂභරාජයෙක්. ඒ වෘෂභරාජයාගේ හඬ අහලා පොඩී වහු පැටියෙක්, ඒ වහු පැටියා මමත් අර වෘෂභරාජයාගේ ගාම්භීර වෘෂභ හඬ නඟනවා කියලා අර පොඩී වහුපැටියාගේ හඬම නැගුවා නේද. ඒ වාගේ සිංහනාද කරන්න ගිහිල්ලා නාකි හිවලෙක්ගේ යටිගිරියෙන් කෑගහන හඬම නේද තොගෙන් ආවෙ කියලා කිව්වා. ඒ නිසා තොගෙ තරම දැනගෙන වාසය කරපිය, බුදුවරුත් එක්ක හැප්පෙන්න යන්නෙ නැතිව කියලා ඒ පිරිවැජියො හාත්පසින්ම වටකරගෙන වචන නැමැති සැත් වලින් ආයුධ වලින් සරභට පහර දුන්නා කියනවා. නින්දා අපහාස විඳලා සරභ බිම බලාගෙන වාසය කලා, එදායින් පස්සෙ කට හෙල්ලුවෙ නෑ සරභ. බුද්ධ කාලෙ කොහොමද. ආයෙ මේ බුද්ධ ශාසනේට ශාස්තෘ ශාසනයට එක වචනයක් භාග්‍යවතුන් වහන්සේ කරුණු එක එක දේවල් කියනකොට කරුණු සහිත ඒවා නිෂ්ප්‍රභා කලා. ශාසනේ බැබලුවා. මේක විවෘත වෙන්න විවෘත වෙන්නමනෙ මේක බබලන්නෙ. විවෘත වෙන්න විවෘත වෙන්න බබළනවා. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ ඒ කාලෙ මූණ දුන්නු ඒවා හිතන්න. මේ බුද්ධ ශාසනයට ඇතුල් වෙලා ඒ බුද්ධ ශාසනයේ දේවල්ම හොරකම් කරගෙන යන්න ඒ කාලෙ අය පැවිදි වුනා. නිගණ්ඨයො මේ බුද්ධ ශාසනේම පැවිදි වෙලා ධර්මය ඉගෙන ගෙන ඒ වචන ඉගෙන ගෙන ආයෙ ගිහිල්ලා ආයෙ හෙළිවැල්ලෙන් ඉඳලා බුදුරජාණන් වහන්සේ කියපු ආර්ය අෂ්ටාංගික මාර්ගයම කියනවා. දැන් ඉන්දියාවේ තියෙන සාධු නිකායවල් වල එක සාධු නිකායක් තියෙනවා ඒ සාධු නිකාය නිර්වාණ සාධු නිකාය. නිවන ගැන කියනවා. නිගණ්ඨයො කියනවා මේ විදියයි සම්මා දිට්ඨි, සම්මා සංකප්ප කියලා කියනවා. බමුණො කම්මනා වසලෝ හෝතා කම්මනා හෝති බ්‍රාහ්මණො නජජ්ජා වසලෝ හෝති නජජ්ජා හොති බ්‍රාහ්මණො ඒ ගාථාව බමුණො බ්‍රාහ්මණ ආගමේ කියනවානෙ. මනුස්සමෘති කියලා බමුණන්ගේ නීති සමුදායක් තියෙනවා. ඒ පොත තියෙනවා අපි ළඟ. ඒකෙ තියෙනවා ඒ බමුණො උගන්වනවා හරි කියනවා මේක. නජජ්ජා වසලො හොති නජජ්ජා හොති බ්‍රාහ්මණො, උපතින් බ්‍රාහ්මණයෙක් වෙන්නෑ, උපතින් වසලයෙක් වෙන්නෑ. කම්මනා වසලො හොති කම්මනා හොති බ්‍රාහ්මණො නෙ. බුදුරජාණන් වහන්සේගේ වචනයනෙ ඔය. ක්‍රියාව අනුවයි එයා

බ්‍රාහ්මණයෙක් හෝ වසලයෙක් වෙන්න. බමුණො කියනවා ක්‍රියාව හේතුවෙන් තමයි බමුණෙක් හෝ වසලයෙක් වෙන්නෙ. යාග කරනවා නම් බමුණෙක්, යාග නොකරනවා නම් වසලයෙක්, කොහොමද උන් ඒකට හරවගත්ත හැටි. මේක ලේසි නෑ. බුදුරජාණන් වහන්සේ ජීවමානව ඉද්දින් මේ ධර්මයට මේ ශ්‍රී සද්ධර්මය වෙන ඒවත් එක්කලා මුහු වෙන එකට බුදුරජාණන් වහන්සේ ඉඩ දුන් නෑ. ඒ ධර්මය වෙනමම බබළවාගෙන උතුම්ම තැන තිබ්බා. කවුරුහරි මිත්‍යා දෘෂ්ටික විදියට ඒ වචන කියාගෙන යද්දි බුදුරජාණන් වහන්සේ අහනවා, දැන් බලන්න අර කෝකලීය මාගන්ධිය සූත්‍රයේ බුදුරජාණන් වහන්සේගේ ඉදිරියේ ආරෝගයා පරමා ලාභා ආරෝගයා පරමං සුඛං කියලා ඒ මාගන්ධිය කියනකොට බුදුරජාණන් වහන්සේ අහනවා මොකක්ද ආරෝගය, මොකක්ද නිර්වාණය කියලා. මේ මොකක්ද පරම සැපය කියලා. නිබ්බාණං පරමං සුඛං කියන්නෙ මොකක්ද කියලා ඇහුවා, උත්තර නෑ. භාග්‍යවතුන් වහන්සේ වදාළා, කාශ්‍යප බුද්ධ ශාසනයේ ඒ බුදුවරුන්ගේ දහම් පද ගාථා ඉතුරු වෙලා ඉතුරු වෙලා අවසානෙට ඉතුරු වුන වචන ටිකක් කිව්වා. ඒක බමුණො අතට පත්වෙලා බමුණන්ගේ එකක් වගේ කියනවා කිව්වා. බුදුවරුන්ගේ වචන, අර්ථයක් දන්නෑ කිව්වා. ඒ වගේ ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ විස්තර කරනවා. ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ ඒ බුදුරජාණන් වහන්සේ ජීවමාන කාලෙ මේ වගේ දේවල් සිද්ධ වුනා. ඒ හැම තැනකටම බුදුරජාණන් වහන්සේ සිංහයෙක් වගේ මුහුණ දුන්නා. සිංහයෙක් වගේ නෙවෙයි, උන්වහන්සේනෙ මහා සිහරජාණන්. එතකොට පින්වතුනි බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ කාරණා හතරක් තියෙනවා, ඒ කාරණා හතරට කිසිසේත් තවත් කෙනෙකුට අභියෝග කරන්න බෑ. දැන් ඒ කාරණා හතර මිලින්ද ප්‍රශ්නෙ තියෙනවා. ඒ බුදුරජාණන් වහන්සේගේ ඒ කාරණා ජීවිතේ තියෙන යම් ගුණ හතරක්, ඒ ගුණ හතරට කාටවක්වත් අභියෝග කරන්න බෑ. මොකක්ද ඒ, බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුද්ධත්වයට. දැන් ඔය සම්මා සම්බුද්ධත්වයත් එක්කනෙ සරභ හැප්පුනේ. බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුද්ධත්වයට අන්තරාය කරන්න බෑ. ඒ කියන්නෙ භාග්‍යවතුන් වහන්සේගේ අවබෝධයට, ඥාණයට අන්තරාය කරන්න බෑ, දැන් අද කාලෙ යම්කිසි කෙනෙක්ගේ ඥාණයට අන්තරාය වෙනවානෙ. මතකය නැතිවෙනවා, කල්පනාව නැති වෙනවා. දහම් විස්තර කිරීම නැතිවෙනවා. කාලයක් යනකොට තියෙන දේවල් ටික ඔක්කොටම අනතුරු වෙනවානෙ. කට්ටිය කියන්නෙ ඉස්සර නම් මට හොඳට මතක තිබ්බා. ඉස්සර නම් සූත්‍ර කියවන්න පුලුවන්. ඉස්සර නම් හොඳට

දහම් වැටහුනා දැන් අපිට වැටහෙන් නෑ කියලා. එහෙනම් එයාගෙ ඥාණයට අනතුරක් වෙලානෙ. බුදුරජාණන් වහන්සේගේ ඥාණයට අනතුරු වෙන් නෑ, සම්මා සම්බුද්ධත්වයට. ඒ අවබෝධයට අනතුරක් වෙන්නෙත් නෑ, කිසිම කෙනෙකුට අනතුරක් කරන්නත් බෑ. අවුරුදු සීය භාග්‍යවතුන් වහන්සේට අවුරුදු සීයකුත් වෙලා නම් ඊළඟට හොඳටම වයෝවෘද්ධ වෙලා නම්, ඊළඟට මඤ්චපරායනයි නම් - මඤ්චපරායන කියන්නෙ ඇඳටම වෙලා නම්- උස්සන්නෙ ගෙනියන්නෙ පෙරලන්නෙ අනිත් අය නම්, එච්චර වයෝවෘද්ධ වුනු තැන පවා තීක්ෂණ නුවණ ඇති අස්ලෝමයෙන් අස්ලෝමයට විදින දුනුවායන්ටත් වඩා තීක්ෂණ නුවණ ඇති රහතන් වහන්සේලා හතරනමක් හතර පැත්තෙ ඉඳලා සතර සතිපට්ඨාන ආදී කරුණු මුල් කරගෙන භාග්‍යවතුන් වහන්සේගෙන් ප්‍රශ්න ඇහුවොත් අවුරුදු සිය ගාණක් ඒ ශ්‍රාවකයො හතර දෙනා පිරිනිවන් පාලා යයි, බුදුරජාණන් වහන්සේගේ ප්‍රශ්න විසඳීම අවසන් වෙන් නෑ. එයින් භාග්‍යවතුන් වහන්සේට වෙහෙසකුත් නෑ. බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුද්ධත්වයට අභියෝග කරන්න බෑ. මේ තියෙන දහම් පොත්, ලෝකෙ තියෙන පොත් පත් ටික ඔක්කෝම ගිනි තිබ්බත් බුදුරජාණන් වහන්සේගේ අවබෝධය නැති වෙන් නෑ. මේ ලෝකෙම එකතු වෙලා බුදුරජාණන් වහන්සේ නිවන් දැක්කෙ නෑ කිව්වත් බුදුරජාණන් වහන්සේගේ අවබෝධය නැති වෙන් නෑ. දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ සියලු දෙනා එකතු වෙලා ඔබ වහන්සේගේ අවබෝධය වැරදියි කියලා කිව්වත් බුදුරජාණන් වහන්සේගේ අවබෝධය නැති වෙන් නෑ, ඒ නිසා අනතුරු කරන්න බෑ බුදුරජාණන් වහන්සේගේ සම්මා සම්බුද්ධත්වයට. ඊටපස්සෙ ඒකට කියනවා සර්වඥතා ඥාණයට අභියෝග කරන්න බෑ කියලා. ඊළඟට තියෙනවා භාග්‍යවතුන් වහන්සේ උදෙසා කරන ලද ලාභයට අනතුරු කරන්න බෑ. ඒ කියන්නෙ භාග්‍යවතුන් වහන්සේ වෙනුවෙන් හදන දානෙට, භාග්‍යවතුන් වහන්සේ වෙනුවෙන් පිළිගන්වන දානෙට කාටවත් අනතුරු කරන්න බෑ. එතකොට ඒක නිසා තමයි සමහර ගෙවල් වල භූතභීත අමනුස්ස දෝෂ තියෙනකොට ඒ ගෙවල්වල උයන පිහින ආහාරයේ ඕජාව ඒ අමනුස්ස බලවේගය විසින් ගන්නවා. ඒකයි දිය රහ, ඒකයි රස නැත්තෙ, ඒකයි ඉක්මණට පිළුණු වෙන්නෙ. ඒකයි කිසිම ප්‍රියමනාප බවක් ආහාරයේ නැත්තෙ. එතකොට ඒ වගේ ආහාර උයන ගෙදරක, දානයක් උයනකොට මේ දානෙ උයන්නේ භාග්‍යවතුන් වහන්සේ උදෙසා, ගරුතර මහා සංඝරත්නය උදෙසා, බුද්ධ ප්‍රමුඛ මහා සංඝරත්නයත් සිහි කරගෙන හදන දානෙට කිසිවෙකුට අන්තරාය කළ

නොහැකියි කියලා සිහි කරලා දානෙ උයන්න බලන්න, ඒ දානෙට කිසි කෙනෙකුට අත තියන්න බෑ. එහෙමයි දානය රස වෙන්නෙ. ඊටපස්සෙ අපිට ඉස්සර මතකයි, දානෙ උයන දවසට ගොඩාක් රසයි ආහාර. අපි දානෙ දවස එනකල් බලාගෙන ඉන්නෙ. අනිත් දවස්වලට එච්චර රස නෑ. ඒකට හේතුව මොකක්ද, සුවඳත් වැඩියි එදාට. එදාට දානෙ උයන්නෙ සංඝයා උදෙසා, භාග්‍යවතුන් වහන්සේ උදෙසා කියන අදහසින්. අනිත් දවස් වලට ගෙවල් වල අයට උයන්නෙ එක එක බලවේගත් එක්ක ආහාර රස නැතිවෙලා යනවා. බුදුරජාණන් වහන්සේ උදෙසා කරන්නේ කියලා. බුදු කුටියක් හැදුවත්, වෙහෙර විහාරයක්. ඒකනේ මේ මහමෙව්නාවේ වෙහෙර විහාර ඉක්මණට හදන්නෙ. මිනිස්සු හිතන්නෙ පිටරටින් ආධාර කරනවා ඇති, ඊළඟට හොඳම නැකැත හොයාගන්න ඇති. මොන නැකැත් ද, කට්ටිය එකතු වුනා. ලොකු ස්වාමීන් වහන්සේ වැඩියා, මෙතන වැඩ ටික පටන් ගන්න කිව්වා, පිරිත් කිව්වා, බුදුපහන දැල්වූවා, එච්චරයිනෙ. දැන් අංගුලිමාල මහා සෑය, දැන් මල්පෙත් මං හදන්නෙ. මහා සෑයෙ කටයුතු ටික අවසන්, ධාතුත් තැන්පත් කරලා. දැන් වඳිනවා පුදනවා. අවුරුද්දයිනෙ ගියෙ. ආයෙ නැකැත් මොකවත් නෑනෙ. උන්වහන්සේට හිතුනා. ඊටපස්සෙ ගිහින් භූමිය හදාගත්තා. පිරිත් ටිකක් කිව්වා. මුල් ගල තිබ්බා. අංගුලිමාල පිරිත කිව්වා. පිරිත් කිය කියා වැඩ පටන් ගත්තා. හැබැයි මට මතකයි මම හොඳට දන්න දෙයක්, ඒ හැම තැනකම ලොකු ස්වාමීන් වහන්සේ සිහි කරනවා මේ භාග්‍යවතුන් වහන්සේ උදෙසා හදන්නෙ. භාග්‍යවතුන් වහන්සේගේ පින් බලයට මෙය ඉටුවේවා. මේ අංගුලිමාල මහරහතන් වහන්සේ උදෙසා හදන්නෙ. ඒ රහතුන් වහන්සේලාගේ අර්හත් තේජසින් මෙය ඉටුවේවා කියලා රහතන් වහන්සේලාගේ ගුණ සිහි කර කර හදන්නෙ. ඊළඟට ඒකට යම් ආධාරයක් ලැබුනත්, උපකාරයක් ලැබුනත්, ලොකු ස්වාමීන් වහන්සේ නිතර සිහි කරනවා මේ රහතන් වහන්සේට මේක ලැබෙන්නෙ. දැන් අපිට මොනවහරි බඩුමුට්ටුවක් එහෙ දාලා තිබ්බත් සංඝයා රැස් කරලා අවවාද කරනවා, රහතන් වහන්සේගේ පින් බලයට ලැබිච්චි ඒවා රහතුන් උදෙසා ලැබෙන ඒවා නාස්ති කරන්න එපා. මේවා පිළිවෙලකට තියාගන්න. රුපියලක් වියදම් කලත් ඒ වියදම් කරන පිරිස එකතු කරලා අවවාද කරනවා. රහතුන් වහන්සේ උදෙසා මේ රුපියල හරි ලැබෙන්නෙ. ඒ නිසා රහතන් වහන්සේලා උදෙසා ලැබෙන ඒවා නාස්ති කරන්න එපා. මහරහතන් වහන්සේ, මහරහතන් වහන්සේ කියන නාමය ... නිතර රැව්දෙන එකක්. ලොකු ස්වාමීන් වහන්සේ ඒක කරන්නෙ. ඒ නිසා තමයි මහමෙව්නාවේ ගොඩනැගිලි ඉදිකිරීම් හැදෙන්නෙ. ඉතින් මං

බැලුවා අතීතෙත් ධාතු වංශයේ, ධාතු වංශයේත් කාවන්තිස්ස රජ්ජුරුවො සේරුවිල සෑය හදනකොට භාග්‍යවතුන් වහන්සේගේ පින් බලයට මේ සෑය හැදේවා කියලා තමයි හදන්නෙ. ළඟදින් මට පොතක් කියවන්න ලැබුනා, කේශධාතු වංශය කියලා, කේශ ධාතූන් වහන්සේලා හය නමක් ස්තූප හයක තැන්පත් කරපු විස්තරයක් ඒ පොතේ තියෙන්නෙ. ඒකෙත් තියෙන්නෙ ඒ හැම ස්තූපයක්ම හදන්නෙ බුදුරජාණන් වහන්සේගේ පින් බලයට මේ ස්තූපය හැදේවා කියලා. ස්තූප හයම හදන්නෙ එහෙම. ඒ නිසා ඔබත් ඒ නිසා මේ මම හදන ගොඩනැගිල්ල, මේ මම හදන චෛත්‍යය, මම හදන බෝධිය, මම හදන සංඝාරාම කුළුණ, මම හදන ආවාසය, එහෙම ඒ වචන ටික ඔයාලගේ ජීවිතෙන් පොඩ්ඩක් අයින් කරගෙන සංඝයා, භාග්‍යවතුන් වහන්සේ කියන අදහස ගන්නකො. මොකද හේතුව භාග්‍යවතුන් වහන්සේ උදෙසා යමක් කළොත් භාග්‍යවතුන් වහන්සේ උදෙසාම වෙන් කරපු ලාභයට අනතුරු කරන්න බෑ දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ කාටවත්. ඊටපස්සෙ තියෙනවා පින්වත්නි, බුදුරජාණන් වහන්සේගේ ශරීරයට අනුගත වූ බුද්ධ රශ්මි ධාරාව තියෙනවා. කියන්නෙ බුදුරජාණන් වහන්සේගේ ශරීරයෙන් විහිදෙනවා නීල පීත ලෝහිත ඕදාත මාංජෙෂ්ට ප්‍රභාෂ්වර කියලා ආලෝක හයක්. බුදුරජාණන් වහන්සේගේ ශරීරයේ තියෙන කෙස් ලොම් ආදී ඒ කළු පාට, නැත්නම් තද නිල් පාට, ඒ භාග්‍යවතුන් වහන්සේගේ ඒ දේහ ලක්ෂණ වලින් නිල් රශ්මිය විහිදෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ ශරීරයේ කහපාට අපි ගත්තොත් එහෙම ශරීරයේ රන්වන් වූ ශරීරයෙන් රන්වන් කහ පැහැය විහිදෙනවා. ඇසේ වුනත් ඇසේ තියෙන ඒ මුළු ඇහෙන්ම පාට පහක් විහිදෙනවා. සුදු පාට තැන් වලින් සුදු රශ්මිය, කහ පාට තැන් වලින් කහ රශ්මිය, රතු පාට තැන් වලින් ලෝහිත රශ්මිය, රතු පාට රශ්මිය, ඊටපස්සෙ ඒ ටික ඔක්කොම ඒ පාට වර්ග හයම එකතු වෙලා වෙනම රශ්මියක් විහිදෙනවා, ඒක ප්‍රභාෂ්වර කියලා කියනවා. ශරීරයේ ඒ තැන් වලින් ඒ ඒ වර්ණයෙන් රැස් විහිදෙන නිසා තමයි සියලු අංගයන්ගෙන් රැස් විහිදෙන කියන අර්ථයෙන් අංගීරස කියන්නෙ. බුදුරජාණන් වහන්සේගේ බුද්ධ රශ්මි ධාරාවට කිසි කෙනෙකුට අනතුරක් කරන්න බෑ. ඒක භාග්‍යවතුන් වහන්සේගේ කැමැත්ත පරිදි විහිදිලා යනවා. ඒ ශරීරයේ හිස වටා විහිදෙන රශ්මිය තියෙනවා. බඹයක් පමණ විහිදෙන ඛ්‍යාමප්‍රභා කේතුමණ්ඩල තියෙනවා. ඊළඟට භාග්‍යවතුන් වහන්සේගේ ශරීරයෙන් අසූ රියනක් විහිදෙන රශ්මිය තියෙනවා. භාග්‍යවතුන් වහන්සේ කැමැති නම් දස දහසක් ලෝක ධාතු, නැතිනම් සහස්සී, ත්‍රි සහස්සී

ඕනම ලෝක ධාතුවකට බුදුරජාණන් වහන්සේට රශ්මිය විහිදවන්න පුලුවන්. දැන් අනිත් අයගේ, දැන් බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න තැන සක් දෙවිඳුගේ රශ්මිය නැතිවෙනවා. බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න තැන මහා බ්‍රහ්මයාගේ රශ්මිය නැතිවෙනවා. ඊළඟට දෙවිවරුන්ගේ රශ්මිය නැතිවෙනවා, භාග්‍යවතුන් වහන්සේම බැබළෙනවා. ඒකනේ ඒ කාලෙ චන්ද්‍රභානු කියලා එක පුත්‍රයෙක් ඉපදුනානෙ, ඒ පුංචි දරුවා ඉපදිච්ච ගමන් පපුවෙන් සඳරැස් විහිදෙනවානෙ. ඉතින් බමුණෝ මෙයාව අල්ලගෙන මේ පොඩි දරුවා වෙනම මණ්ඩපයක තියාගෙන සඳරැස් විහිදෙන කුමාරයාව බලන්න එන්න කියලා ගාණක් අය කරලා මිනිස්සු පෝලිමේ එනවා පපුවෙන් විහිදෙන සඳරැස් බලන්න. නගරයෙන් නගරයට යනවා මේ දරුවා තරුණ වියට පත් වුනා. ඊටපස්සෙ ශ්‍රාවස්තියට නැත්නම් සැවැත් නුවරදී පපුවෙන් සඳරැස් විහිදෙන කුමාරයා කියලා මිනිස්සුන්ට එන්න කිව්වා, මිනිස්සු එන් නෑ. මිනිස්සු වෙන පැත්තකට යනවා. භාග්‍යවතුන් වහන්සේගේ ෂඩ්වර්ණ රශ්මිධාරා තුන් ලෝකෙ පුරා පැතිරෙන රශ්මිධාරා දැකපු, යමකමහා ප්‍රාතිහාර්ය දැකපු මිනිස්සුන්ට මේ පොඩි එකෙක්ගේ පපුවෙන් විහිදෙන පොඩි පාට එළියක් බලන්න උවමනාවක් නෑ ඒ මිනිස්සුන්ට. ඊටපස්සෙ බමුණෝ ඇහුවා, මොකක්ද මේ ඔහේලා මේ යන්නෙ. අපි යනවා භාග්‍යවතුන් වහන්සේ ළඟට කිව්වා. ඉතින් අර කුමාරයා මෙතෙක් කාලයක් දෝලාවෙන් ආවෙ. මේ කුමාරයා දිහා කවුරුත් බලන්නෙ නැති තැන මෙයා දෝලාවෙන් බැහැලා පා ගමනින්ම දෙව්රම්වෙහෙරට ගියා. දැන් මේ ළමයාගෙ පපුවෙන් රැස් විහිදෙනවා. ඊටපස්සෙ මොකද වුනේ, මෙයා දම් සභා මණ්ඩපයේ ළඟට ගියා, ගිහිල්ලා බැලුවා. දම් සභා මණ්ඩපය ළඟට ගිහිල්ලා බලනකොට ඒ දම් සභා මණ්ඩපයේ බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නවා. බුදුරජාණන් වහන්සේ මොහු ගැන දැකලා බුදුරජාණන් වහන්සේගේ රශ්මි ධාරාව විහිදෙව්වා. ඊටපස්සෙ එයා යනකොට එයාගෙ පපුවෙ එළිය නෑ. ඊටපස්සෙ ආයෙ මෙයා එළියට ආවා. එළියට එනකොට රශ්මිය තියෙනවා. ආයෙ දම් සභා මණ්ඩපයෙන් ඔලුව එබිකම් කලා. බුදුරජාණන් වහන්සේ දකිනකොට නැතිවෙනවා. එතකොට මෙයා හිතුවා අන් අයගේ රැස් නැති කරන මන්ත්‍රයක් මේ කෙනා දන්නවා. ඕක මං ඉගෙන ගන්න ඕන කියලා ධර්ම දේශනාවෙන් අවසානයේ ගිහිල්ලා ඇහුවා අන් අයගේ රැස් නැති කරන මන්ත්‍රයක් දන්නවාද, දන්නවා කිව්වා. ඇයි ඉතින් ඔක්කෝගෙම රැස් නැතිකරලා දානවානෙ. ඇයි මේ ඔක්කොගෙම අද කාලෙ මිනිස්සුන්ගේ රැස් විහිදෙන්නෙ මොකෙන්ද, රාගයෙන් ද්වේෂයෙන්, මෝහයෙන් මාන්නයෙන් රැස්

විහිදුවාගෙනනෙ යන්නෙ කට්ටිය. ඒවා නැති කරනවානෙ ධර්මයෙන්. නිකෙලෙස් බවම ඇතිකරවනවානෙ. ඊටපස්සෙ මට ඒක දෙන්න කිව්වා. එහෙනම් මහණ වෙන්න කිව්වා. අර බමුණන්ට කිව්වා මේ කෙනා ළඟ ගොඩක් මන්තර තියෙනවා. ඒ නිසා මම මහණ වෙලා මේවා ඉගෙන ගෙන එන්නම් කියලා. ඒ අයත් කැමැති වුනා. දැන් මෙයාට ඕන මේක ඉගෙන ගෙන බුදුරජාණන් වහන්සේගේ රැස් මාලාව නැති කරන්න. තමන්ගේ රැස් මාලාව ඇති කරන්න. පැවිදි වුනා. බුදුරජාණන් වහන්සේ දේශනා කලා, මේකට ඉස්සෙල්ලාම ක්‍රමයක් තියෙනවා, හොඳට සීලයේ පිහිටලා කේසා, ලෝමා, නකා, දන්තා ආදී වශයෙන් මේ ශරීරය සිහි කරන්න කිව්වා. ඉස්සර තිබුනා ආචාරීවරු කියන්නෙ මොකක්ද කරනවා. අද ඇයි කියලා අහනවානෙ, ඇයි මං එහෙම කරන්නෙ. ඒවා කරන්න ඕනද, වෙන එකක් නැද්ද කියලා අද අහනවානෙ. ඊටපස්සෙ ඒ කාලෙ නෑ, කීව දේ කලා. ඊටපස්සෙ මෙයා දැන් කරනවා. කරනකොට, එහෙම කරනකොටම කයේ යථා ස්වභාවය ප්‍රකට වෙන්න ගත්තා. එතකොට එයා කල්පනා කලා මේ දෙතිස් කුණප කොට්ඨාශයන්ගෙන් ඇති වෙච්ච මගේ මේ ශරීරයෙන් රැස් විහිදුනත් කුණපයෝ කුණපයෝමයි. ශරීරයෙන් රැස් විහිදෙනවා කියලා මලපහ කරන අශුචි වලින් රැස් විහිදෙන් නෑ. කටින් කෙළ ටිකක් දැම්මොත් රැස් විහිදෙන් නෑ. කෙළ, සොටු, සැරව, ලේ, දහදිය මේ ශරීරයේ තියෙන්නෙ කියලා ශරීරය ප්‍රකට වුනා අර රැස් මාලාව ගැන ආශාව නැතිවුනා. එහෙමම හිත එකඟ වුනා, නිකෙලෙස් වුනා, රහතන් වහන්සේ නමක්. බුදුරජාණන් වහන්සේගේ රශ්මි ධාරාවට කිසි කෙනෙකුට අනතුරු කළ නොහැකියි. ඕකට අනන්තරාය, අනතුරු කළ නොහැකි කරුණු හතර කියලා කියන්නෙ. දැන් මේක පිරිතක් විදියටත් තියෙනවා. අන්තරාය නිවාරණ පිරිත කියලා කියන්නෙ. පසුකාලීනව තෙරුන් වහන්සේලා හදාගෙන යම් ගමනක් යනකොට, ඊළඟට යම් කටයුත්තක් කරනකොට මේක කියනවා භාග්‍යවතුන් වහන්සේග් උද්දිස්සකතං බුදුරජාණන් වහන්සේ කෙරෙහි ලැබුනු ලාභයට කිසිවෙකුට අනතුරු කළ නොහැකියි, ඒක සත්‍යයක්. ඊළඟට භාග්‍යවතුන් වහන්සේගේ රශ්මි ධාරාවට අනතුරු කළ නොහැකියි ඒක සත්‍යයක්. භාග්‍යවතුන් වහන්සේගේ සර්වඥතා ඥාණයට අනතුරු කළ නොහැකියි ඒක සත්‍යයක්. භාග්‍යවතුන් වහන්සේගේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණ වලට කාටවත් අනතුරු කළ නොහැකියි, ඒක සත්‍යයක්. ඒ සත්‍යානුභාවයෙන් මට ද පැමිණ තියෙන සියලු අනතුරු දුරු වෙලා මට ද කිසිදු අනතුරක් කළ නොහැකි බවට ආශිර්වාද

ලැබේවා කියලා වෙනම පිරිතක් තියෙනවා. මිනිස්සු නිකං හාහූ ගාලා එක එක ඒවා කිය කියා ඉන්නවාට වැඩිය මං හිතනවා ඒකත් හොඳයි. ඇයි භාග්‍යවතුන් වහන්සේගේ තියෙන්නා වූ සත්‍ය වූ ගුණ හතරක්නෙ සිහි කරන්නෙ. ඊළඟ කාරණාව තමයි බුදුරජාණන් වහන්සේගේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණ වලට අනතුරක් කරන්න බෑ කිසි කෙනෙකුට. බුදුරජාණන් වහන්සේගේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණ වලට. උන්වහන්සේගේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණ තමයි සම ලෙස පොළොවේ පිහිටන පතුල් සහිත සම වූ සිරිපතුලක් තියෙනවා. ඒ සිරිපතුලේ මැද චක්‍ර ලක්ෂණයක් තියනෙවා. එහි දහසක් නිම්වළලු තියෙනවා, දහසක් අර තියෙනවා. ඊළඟට දික් විළුඹින් යුක්තයි, දික් ඇඟිලිවලින් යුක්තයි. උස් වූ ගොප් ඇටය තියෙනවා. ඒණි මුවෙක්ගේ වගේ කෙණ්ඩා තියෙනවා. හිටගෙන නැවෙන් නැතිව දණහිස අල්ලන්න පුලුවන්. ඊළඟට මහා බ්‍රහ්මයාගේ වගේ ඍජු වූ කයක් තියෙනවා. ඊළඟට පිටේචිත්තංතරෝ, පිටේ මැද කාණුවක් වගේ නෑ, සම්පූර්ණයෙන් පිට පිරිලා තියෙන්නෙ. සත් තැනක උස් වූ මස් තියෙනවා. මේ අත් වල පා වල උරහිසේ. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ වටකුරු බෙල්ලක් තියෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ නෙත් සඟල නීලවන්. ලොකුවට පිහිටලා තියෙන නිල්වන් නෙත් සඟලක් තියෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේට දන්ත ධාතූන් වහන්සේලා හතලිස් නමක් වැඩ ඉන්නවා. උඩ ඇන්දේ දත් විස්සයි, යටි ඇන්දේ දත් විස්සයි. ඒ දත් අතර හිඩැස් නෑ, සම ලෙස පිහිටලා සුදෝ සුදු දත් තිබෙනවා. බුදුරජාණන් වහන්සේගේ ශරීරය සම්පූර්ණයෙන්ම රන්වන් පැහැයයි. සියුම් සම තියෙනවා, දූවිල්ලක්වත් ඇඟේ රැඳෙන් නෑ. ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේට තියෙනවා ශ්‍රේෂ්ට වෘෂභයෙකුගේ වගේ ශරීරයේ ඇතුලට කිදා බැසපු කෝසොහිත වත්තගුය්හ, කෝෂයකින් වැසී ගිය පුරුෂ නිමිත්ත තියෙනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේගේ පිරිපුන් නළල් සඟලක් තියෙනවා. වට වූ සිරසක් තිබෙනවා. මේ ආදී වශයෙන් බුදුරජාණන් වහන්සේට - ඒ වගේම පහූතජිව්හෝ, දිව තියෙනවා පුළුල්, ඕන වෙලාවක දිව එළියට ගන්නට පුලුවන්, ඒ දිවෙන් නළල ඒ වගේම කන්සිදුරු පිරිමදින්න පුලුවන්. දික් වූ පුළුල් වූ දිවක් තිබෙනවා. ඒ වගේම බුදුරජාණන් වහන්සේට බ්‍රහ්ම ස්වරය තියෙනවා. ඊළඟට සීහ හනු තිබෙනවා, සිංහයෙක්ගේ වගේ හනු. ඒ වෙහෙසට පත්වෙන් නෑ, මේ ආදී වශයෙන් බුදුරජාණන් වහන්සේගේ ශරීරයේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණ තියෙනවා. ඒ දෙතිස් මහා පුරුෂ ලක්ෂණ නැතිකරන්න කාටවත් බෑ. භාග්‍යවතුන් වහන්සේගේ බ්‍රහ්ම ස්වරය නැති කරන්න බෑ. භාග්‍යවතුන් වහන්සේගේ

ශරීරයේ තියෙන මහා පුරුෂ ලක්ෂණ වලට අනතුරු කරන්න බෑ. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේගේ ජීවිතයට බුදුරජාණන් වහන්සේගේ ජීවිතයට කිසිම කෙනෙකුට අනතුරක් කරන්න බෑ. ඒක දැන් තේරෙනවානෙ ඔබට. මේ බුද්ධ කාලයේ දේවදත්ත මේවා කලා, අන්‍යාගමික පරිබ්‍රාජකයො මේවා කලා, දුනුවායො යෙදුවා, ඇත්තු යෙදුවා. කිසි කෙනෙකුට අනතුරක් කළ නොහැකියි. ඉතින් දැන් මිලින්ද ප්‍රශ්නෙ තියෙනවා නාගසේන මහරහතන් වහන්සේ විස්තර කරනවා, මහරජාණෙනි, භාග්‍යවතුන් වහන්සේ උදෙසා කරන ලද, ළඟට පමුණුවන ලද, ලාභයට කිසිවකට කිසිවෙකු විසින් අනතුරු කරන්න නොහැක්කේය. මහරජාණෙනි භාග්‍යවතුන් වහන්සේගේ ශරීරයට අනුගත වූ බුදුරැස් මාලාවට කිසිවෙකු විසින් හෝ අනතුරු කරන්න නොහැක්කේය. මහරජාණෙනි, භාග්‍යවතුන් වහන්සේගේ සර්වඥතා ඥාණයට කිසිවෙකුට අනතුරු කරන්නට නොහැක්කේය. මහරජාණෙනි, භාග්‍යවතුන් වහන්සේගේ ජීවිතයට කිසිවෙකු විසින් අනතුරු කරන්නට නොහැකිය. දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් හෙබි භාග්‍යවතුන් වහන්සේගේ ජීවිතයට අනතුරු කරන්න බෑ කිසිම කෙනෙකුට. ඉතින් ඒ නිසා මේ විදියට භාග්‍යවතුන් වහන්සේගේ අනන්ත බුදුගුණ කඳ විහිදී පැතිරී තියෙද්දිනුත් තමයි භාග්‍යවතුන් වහන්සේට විරුද්ධව ළඟ මහණ වෙච්චි අය සිවුරු හැරලා එක එක කයිකතන්දර කියාගෙන ගියා. දැන් මට ඒක කියනකොට තේරුනේම බුද්ධ කාලෙත් ඒ වගේ. අද කාලෙත් ඒ වගේ, සමහර වෙලාවට මහමෙව්නාවේ ඉඳලා, මහමෙව්නාවෙ පැවිදි වෙලා හෝ ළමයෙක් විදියට ඉඳලා හෝ ඇප උපස්ථාන කරගෙන ඉඳලා හෝ මොකාක්හරි අර්බුදයක් දාගෙන ගියාට පස්සෙ එක එක ඒවා. අපිත් ඔහෙ හිටියෙ, අපි මෙහෙම කලා මෙහෙම කලා කියලා ලොකුවට කතාව දෙනවා. නමුත් ඇත්ත වශයෙන්ම බලනකොට කරුණු සහිතව විමසුවොත් එහෙම සරභට වාගෙ තමයි වෙන්නෙ. ඒ නිසා අපි මේවා තේරුම් ගන්න ඕන. අපිට වැදගත් වෙන්නෙ අපේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඒ කාලයේ අභියෝග වලට මුහුණ දෙමින් කරුණු සහිතව මේ ධර්මය ඉස්මතු කරමින් ශාසනය බබළවපු හැටි. ඒ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ගැන හිත පහදවා ගන්න. උන්වහන්සේ ශ්‍රේෂ්ට කෙනෙක්. නිර්භය ඇති කෙනෙක්. කිසිවකට භය තියෙන කෙනෙක් නෙවෙයි. ඒ නිසා ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ නිර්භීත බවේ ආනුභාවයෙන්, ඒ වගේම භාග්‍යවතුන් වහන්සේගේ ජීවිතයට අනතුරු කළ නොහැකි බව සත්‍යයයි, බුදුරජාණන් වහන්සේගේ රශ්මි ධාරාවට අනතුරු කළ නොහැකි බව සත්‍යයයි,

සර්වඥතා ඥාණයට අනතුරු කළ නොහැකි බව සත්‍යයයි, භාග්‍යවතුන් වහන්සේ වෙනුවෙන් වෙන් කළ දානයට, සිව්පසයට අනතුරු කළ නොහැකි බව සත්‍යයයි, ඒ සත්‍යානුභාවයෙන් ඔබටද අනතුරක් නොවේවා, අපේ චිත්ත ප්‍රසාදයට අනතුරක් නොවේවා, අපේ බුද්ධ ශාසනයේ අපි ලබන පිළිසරණට අනතුරක් නොවේවා. අපේ තිසරණයට අනතුරක් නොවේවා. දිවි තිබෙන තුරු නිවන් දකිනතුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකිනතුරු මම ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් තිසරණය අපි නිවනට පමුණුවත්වා.

ඉතින් පින්වත්නි අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහනට දායකත්වය දරන්නේ කුසුමා කාරියප්පෙරුම මහත්මිය, දිලූප රණතුංග, චාමර රණතුංග, නිර්මාණි රණතුංග යන දූදරුවන් විසින්. ඉතින් රැස් කරගත්ත සියලු පින් සියලු දෙවියෝ අනුමෝදන් වෙත්වා. ඒ වගේම සියඹලාපේ අංක 38/12 නිවසේ පදිංචිව සිට මියපරලොව ගිය වසරකට පෙර රණතුංග රාමනායක මුදියන්සේලාගේ රත්නායක පියාණන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම ඒ මියපරලොව ගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා. පරම පූජනීය ගුරු දෙවිඳුන් අපගේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වී පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා. ඒ වගේම ගරුතර මහා සංඝරත්නයටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් ධර්මාවබෝධයට මේ පින් උපකාර වේවා. ඒ වගේම දායකත්වය දැරූ පින්වතුන් නමින් උදව් උපකාර කල සියලූම දෙනාට ඒ වගේම පවුලේ සියලු දෙනාට නිදුක් නිරෝගී සුව සැලසේවා. ඒ වගේම කුසුමා කාරියප්පෙරුම මහත්මිය, දිලූප රණතුංග, චාමර රණතුංග, නිර්මාණි රණතුංග යන දූ දරුවන්ට මේ සියලු පින් අනුමෝදන් වේවා. ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන් විදුලිය, ඒ වගේම අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන් ඇතුළු සියලු දෙනාට ඔබ අප කාටත් උතුම් තිසරණයේම සිත හැම මොහොතකම පිහිටාවා. ඒ හිතේ ඇතිවුනු පැහැදීම නිරන්තරයෙන් සුරැකේවා. අපිටත් ගෞතම බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ලබන්නට දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=5jsyGyRyzNA&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=65

සාදු සාදු සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදු සාදු සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සමඟ ඔබ එකතු වෙලා සිටින්නෙ. අපි මීට කලින් වැඩසටහන් වලදි මතක් කලා හිතේ චිත්ත ප්‍රසාදයක් ඇති වුනොත් ඒ චිත්ත ප්‍රසාදය රැකගන්නවා කියන එක හරි ශ්‍රේෂ්ටයි. ඉතින් ඒ නිසා හිතේ පැහැදීම අද කාලයේ තුණුරුවන් ගැන හිතේ ඇතිවන පැහැදීම කියන එක ශ්‍රේෂ්ට දෙයක්. බුද්ධ කාලෙ මගඵල ලැබීම වගේ දෙයක් අද කාලෙ තුණුරුවන් ගැන පැහැදීම තියාගෙන ඉන්නවා කියන එක. එච්චර පැහැදීමට බාධා. කෝටි ප්‍රකෝටි ගණන් බාධා පැමිණෙද්දි ඔබගේ පැහැදීමට උපකාරී වෙන විදියට තමයි මේ දහම් වැඩසටහන් තියෙන්නෙ නොයෙකුත් බාධක මැද. ඉතින් ඒ නිසා අද දවසේ මේ උතුම් දහම් වැඩසටහන තවත් උතුම් බුද්ධ දේශනාවක් බුදුරජාණන් වහන්සේගේ ගුණ තේජස ප්‍රකට වෙන අපිට ලැබුනු තිසරණයේ ආනුභාවය ප්‍රකට වෙන දේශනාවක් අද අහන්න සළස්වන්නෙ. අංක 1325/11, හතරවන මාවත, බෝගහවත්ත පාර, පන්නිපිටිය ලිපිනයේ පදිංචි පින්වත් ඉන්දිකා බස්නායක මහත්මිය සහ ජිනේන්ද්‍ර

විජේරත්න මහත්මයා ඇතුලු පවුලේ සියලු දෙනා. දැනට අසනීප තත්ත්වයෙන් පසුවන සිරිල් බස්නායක පියාණන්ට සහ තමරා විජේරත්න මෑණියන්ට නිදුක් නිරෝගී සුව පතමින් මේ දහම් වැඩසටහනට මේ පින්වතුන් එකතු වෙන්නෙ, මේ ධර්ම දානයේ පින රැස් කරගන්නෙ. ඉතින් මේ ඇත්තන්ට රැස් වෙන අනන්ත අප්‍රමාණ පින් බලයෙන් ඒ මුළු පවුලේ සියලු දෙනාම සුවපත් වේවා කියන ආශිර්වාදය මුලින් සිදු කරනවා. ඉතින් පින්වත්නි අපි අද බලමු අපේ බුදුරජාණන් වහන්සේ, දැන් මේ කාලය පුරාම අපේ බුදුරජාණන් වහන්සේ මුහුණ දුන්නු අභියෝග සමාජයෙන් ආපු ගැටළු වාද විවාද තමන් ළඟම මහණ වෙච්චි සුනක්ඛත්ත බුද්ධ ශාසනයේ මහණ වෙච්චි සරභ ඒ ඇත්තො අභියෝග කරද්දි, ඊළඟට නිගණ්ඨ ශ්‍රාවක පිරිස ළඟට ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේ කතා කළ ආකාරය, පිරිවැජි ආරාම වලටම ගිහිල්ලා සම්මුඛව කතා කරපු ආකාරය අපි කතා කලා. අද හරි අපූරු සිද්ධියක් අද කතා කරන්නෙ. ඒ තමයි, මේක පුදුම සහගත සිද්ධියක්. විශාලා මහනුවර වාද විවාද කරපු, වාද විවාද කරන අය ඉන්න තැනක්. ගොඩාක් මේ බුද්ධ ශාසනයට අඩන්තේට්ටම් වෙච්චි තැන තමයි විශාලා මහනුවර. ඔය විශාලා මහනුවර හිටියා වාද කරලා වාදයෙන් ජයගන්න අමාරු පරිබ්‍රාජිකාවක්. ඇයව පරද්දන්න බෑ. ඔය විශාලා මහනුවරම හිටියා වාද කරලා පරද්දන්න බැරි පරිබ්‍රාජකයෙක්. කිසිම විදියකින් මේ අය මේවා කරන්න බෑ. දවසක් ලිච්ඡවිවරු මේ දෙන්නාම මේ පරිබ්‍රාජකයයි, පරිබ්‍රාජිකාවයි දෙන්න එකතු කරලා වාදයක් කලා. දෙන්නම සම සමයි. එක්කෙනෙක්වත් පරදින්නෙ දිනන්නෙ නෑ, දෙන්නම සම සමයි. ඊටපස්සෙ ලිච්චවිවරු කතා කලා මේ වාගේ මහා නුවණැති කෙනෙකුට දාව දරුවෙක් ඉපදුනොත් එහෙම ඒ දරුවා මහා නුවණක්කාරයෙක් වෙයි කියලා රජවරු මුල්වෙලා මේ දෙන්නා විවාහ කෙරෙව්වා. විවාහ කරවලා මේ අයගෙන් දරුවො ඉපදුනා කෙල්ලො හතර දෙනයි, එක කොල්ලයි. ඒ ඉපදුනු පරිබ්‍රාජක පුත්‍රයා සච්චක. අනිත් කාන්තාවරු ගැන, ඒ අනිත් කාන්තාවො හතර දෙනා, දූවරු හතර දෙනාම දමනය වුනා සාරිපුත්ත මහරහතන් වහන්සේ සමඟ වාද කරන්න ගිහිල්ලා. සච්චක, සච්චකගෙ හැටි හිතන්න අපි අද චූල සච්චක සූත්‍රය අහන්නෙ. සච්චක කියලා උගතෙක් හිටියා ඒ අර ලිච්ඡවි වරුමනේ මහා උගතෙක් හැදුවෙ. ඒ නිසා රාජ රාජ මහාමාත්‍යවරු අර සච්චකට යටත්. ගරු කරනවා. එතකොට රාජ රාජ මහාමාත්‍යවරු ගරු කරනකොට මිනිස්සු ගරු කරනවා. සච්චක කියන්නෙ කිට්ටු වෙන්න පුලුවන් චරිතයක් නෙවෙයි. මේ සච්චක විශාලා මහනුවර මිනිස්සුන්ට කතා කරලා කිව්වා මිනිස්සුනේ මේ

අහපල්ලා. ඔය ඉන්න ශ්‍රමණ බ්‍රාහ්මණවරු, ආචාර්යවරු වෙලා අපි අර්හත්, අපි සම්මා සම්බුදු කියලා ඔය කිය කියා යන්නෙ. ඔය උදවිය මාත් එක්ක වාද කලොත් මම ඔය අය ළඟට ගිහිල්ලා වාද කලොත්, වෙව්ලලා යනවා. කම්පා වෙලා යනවා, සලිත වෙලා යනවා. ඔය රහත් වෙලා කියලා බුදු වෙලා කියලා ඉන්න අයගේ කිහිලි වලින් දාඩිය දානවා. එහෙම නොවෙනා කෙනෙක් මේ පෘථිවියේ නෑ, දැන් සච්චක කියනවා. ඒ නිසා මේ බලාපල්ලා මේ තියෙන කණුව, මේ ගල් කණුවත් එක්ක මම වාද කලොත් එහෙම මේ ගල් කණුව සෙලවිලා වෙව්ලලා යනවා. හිත් පිත් නැති මහා ගල් කණුවක් සෙලවෙනවා නම් මම කතා කරනකොට මේ නරයො කවුද කියලා ඇහුවා. ඔන්න සච්චක. ඊටපස්සෙ ඔය වාගේ වාද විවාද කරගෙන මෙයා ඉතින් මහා ලොක්කා වගේ ඉන්නවා, කිසි කෙනෙක් කිට්ටු වෙන්නෑ බයයි සච්චකත් එක්ක වාද කරන්න බෑ. එදා අපගේ සාරිපුත්ත මහරහතන් වහන්සේගේ ආචාර්ය වූ අස්සජි මහරහතන් වහන්සේ විශාලා මහනුවර පිණ්ඩපාතෙ වැඩියා. අස්සජි මහරහතන් වහන්සේට මේ සච්චකව මුණගැහුනා පාරෙදී. ඉතින් අහනවා ශ්‍රමණයන් වහන්ස, දැන් ඔබ වහන්සේ ඔය සම්මා සම්බුදුයි කියන කෙනෙක් ළඟනෙ පැවිදි වෙලා ඉන්නෙ. ඉතින් කියන්නකො බලන්න ඔබ වහන්සේලාගේ ශාස්තෘන් වහන්සේ මොනවද කියන බණ කියලා. මෙයා ලොක්කා වගේ අහනවා. ඊටපස්සෙ අස්සජි මහරහතන් වහන්සේ කියනවා පින්වත් අග්ගිවිස්සන, අග්ගිවිස්සන කියන්නෙ ගිනි පුදන බ්‍රාහ්මණයා කියලා, ගෝත්‍රයෙන් කතා කලේ. පින්වත් අග්ගිවිස්සන අපේ භාග්‍යවතුන් වහන්සේ ශ්‍රාවකයන්ට අනුශාසනා කරන්නෙ හික්මවන්නෙ මෙහෙමයි. රූපය අනිත්‍යයි, වේදනාව අනිත්‍යයයි, සංඥාව අනිත්‍යයයි, සංස්කාර අනිත්‍යයි, විඤ්ඤාණය අනිත්‍යයයි, රූපය අනාත්මයි, වේදනාව අනාත්මයි, සංඥාව අනාත්මයි, සංස්කාර අනාත්මයි, විඤ්ඤාණය අනාත්මයි කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සියලු සංස්කාර අනිත්‍යයයි. සියලු සංස්කාර අනාත්මයි, මේ සියල්ලාම අනිත්‍යයයි අනාත්මයි, වෙනස් වෙනවා මම මගේ ආත්මය කියලා වසඟයේ පවත්වන්න බෑ කියලා තමයි ධර්මය දේශනා කරන්නෙ ශ්‍රාවකයන්ට ධර්මය දේශනා කරන්නෙ කියලා කියා හිටියා. කියනකොටම සච්චක කිව්වා ඇහෙන්නවත් එපා ඔහොම බණක් නම්. නොඇසිය යුත්තක්මයි මේ ඇහුවේ. අපෝ අපේ කන් පව් කරලා ඕවගේ ඒවා අහන්න. බලන්නකො මේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මිත්‍යා දෘෂ්ටියකට වැටුනානෙ. මට මුණගැහුනොත් අනුකම්පා කරලා උන්වහන්සේ මිත්‍යා දෘෂ්ටියෙකන් ගලවගන්නවා කියලා කිව්වා. දැන් සච්චක කියනවා.

බුදුරජාණන් වහන්සේ මිත්‍යා දෘෂ්ටියෙන් ගලවගන්න ඕන කියලා. මටත් මුණගැහෙන්නෙ නැතෑ කියලා ගියා. ඉතින් ඔන්න ඔය කතාව ඔතනින් ඉවරයි. ඒ දවස් වල ලිච්ඡවි කුමාරවරු පන්සීයක් රැස්වීම් ශාලාවකට ඇවිල්ලා විවේකයෙන් ඉන්නවා. ඒ වෙලාවේ නිගණ්ඨපුත්‍ර සච්චක, එතකොට මෙයා නිගණ්ඨ ආගමේ ඉන්න කෙනෙක්. සච්චකයා, අර ශාලාවේ ඉඳලා ලිච්ඡවි වරු ගොඩාක් දැක්කානෙ. ඔය වාද විවාද කරන්න කැමැති අයට හරී පෙරේතකමක් තියෙනවා ඔය පිරිස වැඩිපුර දකින්න. ඒ පිරිස දැක්ක ගමන් මෙයාට ආවා ඒක. ඇවිල්ලා කියනවා අද තමයි හොඳම දවස. මට මේ ශ්‍රමණ භවත් ගෞතමයොත් එක්ක තියෙනවා කතා බහක්. ඔහේලත් එනවා නම් මාත් එක්ක යන්න මං ගිහිල්ලා වාද කරනවා. එතකොට බලාගන්න පුලුවන් ඔහේලට, ඇඟේපතේ හයිය තියෙන කෙනෙක් දිග එළු ලොම් තියෙන එළුවෙක් ලොම් වලින් අල්ලලා එහෙට්ට මෙහෙට්ට හොලවලා හොලවලා කරකවලා වීසි කරනවා වගේ මම කතා කරලා මගේ වචනයෙන්ම ශ්‍රමණ භවත් ගෞතමයෝ හොල්ලලා හොල්ලලා වීසි කරනවා. එහෙම නැත්නම් සුරා හදන මනුස්සයෙක් ඒ සුරා පෙරන පැදුර අරන් ගිහිල්ලා ගැඹුරු වතුරේ ඔබලා ගහෙල්ලලා ගහෙල්ලලා වීසි කරනවා වගේ මම ශ්‍රමණ භවත් ගෞතමයන් එක්ක වාද කරලා වීසි කරලා දානවා කිව්වා. එහෙම නැත්නම් බේබද්දෙක් සුරා පෙරන පෙරහන්කඩ අරන් ඇවිල්ලා ඒක අනිත් පැත්ත හොලවලා මේ පැත්ත හොලවලා එහෙට මෙහෙට හොලවලා සුරා පෙරන අර ගොට්ට වීසි කරලා දානවා වගේ මම එයාව වීසි කරලා දානවා. එහෙම නැත්නම් හැට වයස් පිරුණු මහා හස්තිරාජයෙක් පොකුණකට ගිහිල්ලා සණදෝයික කියන සෙල්ලම කරනවා වගේ වතුර එහෙ මෙහෙ දාලා මඩ විසුරුවලා නෙළුම් අල ගලවලා හෝදලා වීසි කරලා දානවා වගේ මම ශ්‍රමණ භවත් ගෞතමයොත් එක්ක සණදෝයික සෙල්ලම කරනවා අද, වරෙල්ලා බලන්න කිව්වා. එතකොට ලිච්ඡවීවරුන්ගෙන් ඔතන කට්ටියක් හිටියා, හරි හරි මෙච්චර කාලයක් ඔය ශ්‍රමණ භවත් ගෞතමයොත් එක්ක කතා කරන්න කෙනෙක් හිටියෙ නෑ. මේ ඉන්නෙ සච්චක, යං සච්චක. එතකොට එතන ඉන්නවානෙ බුදුරජාණන් වහන්සේට පැහැදිච්ච පිරිසක්. ඒ පිරිස කල්පනා කරනවා මේ සච්චකයා මේකා මොකෙක්ද, තමන් ගැන මොනවද මේ හිතාගෙන ඉන්නෙ. ලොව්තුරා සම්මා සම්බුදු කෙනෙක් එක්ක කතා කරන්න යන්න ඔය වචන ටිකවත් පිට කරන එක මේකට සුදුසුද. ඊටපස්සෙ කිව්වා හරි බලමු ගිහිල්ලා කියලා. ඔන්න දැන් ඔක්කෝම ටික එකතු වුනා. එකතු වෙලා මේ ඔක්කෝම විශාලා මහනුවර කූටාගාර ශාලාවට ආවා.

එදා බුදුරජාණන් වහන්සේ මහා වනයට වැඩලා විවේකී භාවනාව පිණිස. පන්සීයක් පිරිස සමඟ සච්චකයා ඉස්සරහට එනවා. සච්චක බඩ ලොකු මනුස්සයෙක්. ඒ සච්චක ඉස්සරහින් ලොකු පටියක් බැඳගෙනනෙ හිටියා කියන්නෙ බඩේ. එතකොට ඇයි කියලා අහනකොට කිව්වලු මොලේ බඩට බැහැලා බඩ පුපුරයි කියලා මේ බඩේ ගැටයක් ගහගෙන ඉන්නෙ. මිනිස්සු වඳිනවලු. ඔළුව පාත් කරනවාලු. අනෙත් අන්‍යාගමික නායකයො ඇත් වෙලා යනවා. සච්චකත් එක්ක නෑ කතා. ඊටපස්සෙ කූටාගාර ශාලාවට ගිහිල්ලා ස්වාමීන් වහන්සේලාගෙන් ඇහුවා කෝ ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ. අග්ගිවිස්සන භාග්‍යවතුන් වහන්සේ මේ වනයේ ටිකක් ඇතුලට වැඩියා, විවේකයෙන් වැඩ ඉන්න. ඊටපස්සෙ හා හරි ඒක මට අදාල නෑ, මං යන්නම් එතන්ට. දැන් සච්චක යනවා පන්සීයක් එක්ක. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ ළඟට ගිහිල්ලා මෙයත් හරිබරි ගැහිලා ඉස්සරහින් ඉඳගත්තා. අනිත් ලිච්ඡවි කුමාරවරු පිරිසයි, දැන් ඕවටම සෙට් වෙනවනෙ කට්ටිය, තව මගින් තව කට්ටිය එකතු වෙන්න ඇති. ඔක්කොම පිරිස අර වනයේ, භාග්‍යවතුන් වහන්සේ වෘක්ෂ මූලයේ වැඩ ඉන්නවා, අර පිරිස වටේ ඉන්නවා දැන්, හවස් කාලයේ. දවල් දෙකට තුනට වගේ. ඊටපසසෙ අග්ගිවිස්සන කියනවා - සච්චක, භවත් ගෞතමය මට ඔබවහන්සේත් එක්ක පොඩි කතාවක් තියෙනවා. ඉතින් ඔබවහන්සේ මාත් එක්ක කතා කරන්න කැමැති නම් මට ඒ කතාව දැන් පුළුවන් දැන් ඒ කතාව අදින්න, මේ කතාව සිද්ධ කරන්න. බුදුරජාණන් වහන්සේ වදාළා, බොහෝම අගෙයි, දැන් වෙලාව හොඳයි, කියන්න කීවා කියන්න තියෙන දෙයක්. බුදුරජාණන් වහන්සේට කියා හිටිනවා, මං කැමැතියි ඔබවහන්සේ කොහොමද මේ ශ්‍රාවකයන්ට බණ කියන්නේ කියලා දැනගන්න. පින්වත් අග්ගිවිස්සන, මං ශ්‍රාවකයන්ට ධර්මය දේශනා කරන්නෙ මෙහෙමයි. රූපය අනිත්‍යයි, වේදනාව අනිත්‍යයයි, සංස්කාර අනිත්‍යයයි, විඤ්ඤාණය අනිත්‍යයයි, රූප, වේදනා සංඥා, සංකාර, විඤ්ඤාණ. රූපය අනාත්මයි, වේදනාව අනාත්මයි, සංඥාව අනාත්මයි, සංස්කාර අනාත්මයි, විඤ්ඤාණය අනාත්මයි. සබ්බේ සංකාරා අනිච්ඡා අනත්තා, සියලු සංස්කාරයෝ අනිත්‍යයි, අනාත්මයි. මම, මගේ, මගේ ආත්මය කියලා ගන්න බෑ කියලා. එතකොට අස්සජි මහරහතන් වහන්සේ යම් විදියකට වචනෙ කිව්වද ඒ විදියටම බුදුරජාණන් වහන්සේ කියා හිටියා. එහෙම කියනකොටම දැන් මෙයාට මේ වචන ටිකම ආවනෙ. හරිබරි ගැහුනා. හරිබරි ගැහිලා මෙයා කියනවා, භවත් ගෞතමයෙනි, මට උපමාවක් මතක් වෙනවා. මොකක්ද අග්ගිවිස්සන මතක් වෙන උපමාව. ගෞතමයෙනි, ඔය පැල වර්ග

පැලවෙනවානෙ ගස් කොළං. ඒ ගස් කොළං පැළ වෙන්නෙ මහපොළොව පිහිට කරගෙනමයි. මහපොළොවෙමයි. ඊළඟට මිනිස්සු ඇවිදිනවා, දුවනවා, පනිනවා, බලය ශක්තිය ගන්නවා, ඒ ඔක්කොම පොළොව මුල් කරගෙන තමයි කරන්නෙ. ඒ වගේ භවත් ගෞතමයෙනි, රූපය ආත්මය කරගෙන තමයි මේ සත්ත්වයෝ ඉන්නෙ. රූපයේ පිහිටලා තමයි පින් පව් රැස් කරන්නෙ. වේදනාවේ පිහිටලා වේදනාව මුල් කරගෙන පින් පව් රැස් කරන්නෙ. සංඥාවේ පිහිටලා සංඥාව මුල් කරගෙන පින් පව් රැස් කරගන්නෙ. සංස්කාර, විඤ්ඤාණ මේවගේ පිහිටලා තමයි පින් පව් රැස් කරගන්නෙ. ඉතින් මේ රූප, වේදනා, සංඥා, සංස්කාරත් එක්කයි මිනිස්සු ඉන්නෙ. ඒ මිනිස්සු සම්පූර්ණයෙන්ම ඒ මනුස්සයාට ඕන දෙයක් කරන්න මේ රූප, වේදනා, සංඥා, සංකාර, විඤ්ඤාණ ඕන. එතකොට බුදුරජාණන් වහන්සේ ඇහුවා, අග්ගිවිස්සන දැන් ඔය කතාවෙන් ඔය කියන්න හදන්නෙ රූපය ආත්මයයි, ඒ කියන්නෙ රූපය තමාගේ වසඟයේ තියාගන්න පුලුවන්. වේදනාව ආත්මයි, වේදනාව තමන්ගේ වසඟයේ තියාගන්න පුලුවන්, තමන්ට ඕන විදියට. සංඥාව ආත්මයි, සංඥාව තමන්ගේ වසඟයේ තියාගන්න පුලුවන් තමන්ට ඕන විදියට. සංස්කාර ආත්මයි, චේතනාව තමන්ට ඕන විදියට තියාගන්න පුලුවන්. විඤ්ඤාණය ආත්මයි, විඤ්ඤාණය තමන්ට ඕන විදියට තියාගන්න පුලුවන් කියලද ඔය කියන්න හදන්නේ කියලා ඇහුවා. භවත් ගෞතමයන් වහන්ස, ඔව් මං කියන්නෙ ඒක තමයි. රූපය ආත්මයි, වේදනාව ආත්මයි, සංඥාව ආත්මයි, රූප වේදනා සංඥා සංකාර විඤ්ඤාණ, මම, මගේ, මගේ ආත්මය කියලා ගන්න පුලුවන් කිව්වා. අනිත් එක මේ මිනිස්සුත් ඔය කතාවමනෙ භවත් ගෞතමයන් වහන්ස කියන්නෙ. බුදුරජාණන් වහන්සේ කිව්වා අග්ගිවිස්සන, ඔහේ කියපු කතාවට අහක යන මිනිස්සු ඈඳ ගන්න එපා. තමන්ගේ අදහස කියන්නකො. ඊටපස්සෙ කියනවා, භවත් ගෞතමයෙනි, හරි මම මිනිස්සු ඈඳ ගන්නෙ නෑ. මගේ අදහස තමයි රූපය ආත්මයි, වේදනාව ආත්මයි, සංඥාව ආත්මයි, සංස්කාර ආත්මයි, විඤ්ඤාණ ආත්මයි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ අහනවා, අග්ගිවිස්සන මං ඔබට කාරණයක් කියන්නම්, ඔබට පුලුවන් විදියට උත්තර දෙන්න. දැන් ක්ෂත්‍රිය රජවරු, රජ කුලයේ රජවරු ඉන්නවා ඔටුනු පැළඳලා ඒ රජවරුන්ට පුලුවන් තමන්ගේ, උදාහරණයක් ගත්තොත් කෝසල රජ්ජුරුවෝ එහෙම නැත්නම් බිම්බිසාර රජ්ජුරුවෝ, ඒ අයට පුලුවන්, තමන්ගේ රාජ්‍යයේ ඉන්න අය මරන්න පුලුවන්. ධනය තියෙන අය නැති කරන්න පුලුවන්, දිළින්දො කරන්න පුලුවන්. තමන්ගේ අණසක පතුරලා තමන්ගේ බල තේජස හැම තැනම

පතුරවන්න පුලුවන් ඒ රජවරුන්ට, පුලුවන් ද බැරිද. ඊටපස්සෙ කියනවා අග්ගිවිස්සන, සච්චක කියනවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස මොකෝ බැරි. මේ ලිච්ඡවීන්ටත්, මල්ල රජදරුවන්ටත්, මේ පොඩි පොඩි රාජ්‍යය වල ඉන්න අයටත් ඕවා කරන්න පුලුවන්. තමන්ගේ රාජ්‍යයේ ඉන්න අය මරන්න පුලුවන්, ධනය පැහැරගන්න පුලුවන්, දිළින්දන් කරන්න පුලුවන්, තමන්ගේ අණසක පතුරගන්න පුලුවන් එකේ මහා රාජ්‍යයක් තියෙන කොසොල් රජ්ජුරුවන්ට, බිම්බිසාර රජ්ජුරුවන්ට බැරිද බිම්බිසාර නෙවෙයි එතන කියන්නෙ අජාසත්ත, ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ අවසාන කාලෙ වගේ මේ සිද්ධිය වෙලා තියෙන්නෙ. අජාසත්ත රජ්ජුරුවන්ට කෝසල රජ්ජුරුවන්ට බැරිද ඇහුවා තමන්ට ඕන විදියට අණසක පතුරුවන්න. ඒ අයට පුලුවන් කිව්වා තමන්ගේ බලය පාවිච්චි කරන්න. ඉතින් බුදුරජාණන් වහන්සේ අහනවා සච්චකගෙන්, සච්චක නුඹ මොකක්ද මේ ගැන හිතන්නෙ. දැන් ඔය රජවරු තමන්ගේ අණසක බලය පතුරුවනවානෙ, තමන්ට ඕන විදියට රාජ්‍යය තියාගන්නවානෙ. හරි, ඔන්න ඔය විදියට රූපය මෙසේ වේවා, රූපය මෙසේ නොවේවා කියලා තමන්ගේ අණසක බලය පාවිච්චි කරලා රූපය තමන්ගේ වසඟයේ පවත්වන්න පුලුවන්ද කියලා ඇහුවා. ඇත්තටම රූපය අපට වසඟයේ පවත්වන්න පුලුවන්ද, මේක දිරනවා වෙනස් වෙනවා, උදේට නැගිටිනකොට කබ කඳුළු ගලලා. මේකෙ දාඩිය දානවා. ජරාව පිටවෙනවා. වයසට යනවා, බැරි ගැහෙනවා. ඇඳට වැටෙනවා, පුලුවන්ද මෙසේ නොවේවා කියලා ලබන්න. අනාපය රූපයේ එක එක අඩුපාඩුකම් තියෙද්දි මෙසේ නොවේවා කියලා ලබන්න පුලුවන්ද. ලැබිච්ච රූපයනෙ, මේවා වෙනස් කරගන්න පුලුවන්ද. ඊටපස්සෙ ඇහුවා රජවරු තමන්ගේ රාජ්‍යයට අණසක පතුරවනවා වගේ තමන්ට පුලුවන්ද කියලා ඇහුවා රූපයට අණසක පතුරවන්න. මේක කියපු ගමන්ම – මේක හරි තත්පරයට තේරෙනවානෙ. ඒක කියපු ගමන්ම සච්චකයා නිහඬ වුනා. ඇයි සච්චකයා කිව්වෙ තමන්ට රූපය පවත්වන්න පුලුවන් ආත්මයි කියලානෙ. නිහඬ වුනා. දෙවෙනි වතාවටත් බුදුරජාණන් වහන්සේ අහනවා අග්ගිවිස්සන කියාපං, මේ රූපය මෙසේ වේවා, මෙසේ නොවේවා කියලා තමන්ගේ බලය අණසක පතුරවන්න පුලුවන්ද, දෙවෙනි වතාවටත් සච්චකයා නිහඬයි. තුන්වෙනි වතාවටත් බුදුරජාණන් වහන්සේ අහනවා ඇ සච්චක දැන් උඹ කතා කරන්න ඕන. මේ වෙලාවේ නිහඬව ඉන්න එපා. තුන් වතාවක් බුදු කෙනෙක් උත්තරයක් බලාපොරොත්තුවෙන් අහද්දි සම්මා සම්බුදුවරයෙක් ඒ ප්‍රශ්නය අහනකොට එයා උත්තර දෙන් නැත්නම් ඔහුගේ හිස හත්කඩකට

පැලෙනවා. සච්චක උත්තර නොදී ඉන්න එපා. දැන් කියාපං කිව්වා. කියනකොට වජ්‍රපාණී කියන යක්ෂයා ආකාශයේ පෙනී හිටියා. මාගේ ශාස්තෘන් වහන්සේ තුන් වතාවක් දක්වා කරුණු විමසද්දි මේ සච්චකයා උත්තර දෙන් නැත්නම් මේ අතේ තියෙන ගිනි ගෙන දිලිසෙන යගදාවෙන් මේකාගේ ඔළුවට තලලා හිස සත්කඩකට පලනවා කියලා ආකාශයේ වජ්‍රපාණී යක්ෂයා පෙනී හිටියා. ඒ වජ්‍රපාණී යක්ෂයා බුදුරජාණන් වහන්සේට පේනවා, සච්චකට පේනවා. සච්චක හොඳටම බයවුනා. ඇඟේ ලොම් කෙලින් වුනා. දාඩිය වැගිරෙන්න ගත්තා. වැගිරෙන්න අරන් හොඳටම බයවෙලා එකම එකයි හිතුනෙ, මාව බේරගන්න පුලුවන්නෙ බුදුරජාණන් වහන්සේට විතරයි කියලා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ඔබවහන්සේ මගෙන් මොකක්ද ඇහුවෙ, සච්චක මං ඇහුවේ, රූපය මෙසේ වේවා, මෙසේ නොවේවා කියලා අණසක බලයක් පතුරවන්න පුලුවන්ද. ස්වාමීනී, එහෙම කරන්න බෑ. හාහා අග්ගිවිස්සන පොඩ්ඩක් කල්පනාවෙන් උත්තර දෙන්න. දැන් ඉස්සෙල්ලා කිව්වා ආත්මයි කියලා, දැන් කියනවා නෑ කියලා. කලින් කියපු එකට දැන් කියන උත්තරේ ගැලපෙන් නෑ. අග්ගිවිස්සන ඔබ මොකද හිතන්නෙ, වේදනාව ආත්මයි කියලා මගේ ආත්මය, මට ඕන විදියට මෙසේ වේවා, මෙසේ නොවේවා කියලා වේදනාව තමාගේ වසඟයේ පවත්වන්න පුලුවන්ද. බෑ ස්වාමීනී. අග්ගිවිස්සන කල්පනාවෙන් උත්තර දෙන්න. කලින් කිව්වානෙ වේදනාව ආත්මයි කියලා. අග්ගිවිස්සන මොකක්ද හිතන්නෙ, සංඥාව මෙසේ වේවා, මෙසේ නොවේවා කියලා තමන්ට අණසක පතුරවන්න පුලුවන්ද මේ හඳුනාගන්න ලෝකෙට. තමන්ට ඕන විදියට ලෝකෙ හඳුනගන්න පුලුවන්ද. හේතුඵල දහමක්නෙ මේකෙ තියෙන්නෙ. ඊටපස්සෙ බෑ ස්වාමීනී, අග්ගිවිස්සන කල්පනාවෙන් උත්තර දීපං, කලින් කිව්වා මේවා ආත්මයි කියලා. සංස්කාර, චේතනා පහළ කිරීම අපිට ඕන විදියට, දැන් හිතන්න පින්වතුනි චේතනා සංස්කාරයෝ ආත්මයි නම් එහෙනම් මගේ හිතට එන ආනාපානසති භාවනාවේ අරමුණ හිත පිහිටන්න කියනකොට ලස්සනට පිහිටලා තියෙන්න ඕන. කොච්චර අමාරුද හුස්ම රැල්ලෙ හිත පිහිටන්න. මෛත්‍රියේ හිත පිහිටන්න. බුදුගුණ වල හිත පිහිටන්න කොච්චර අමාරුද චේතනාව එක තැනකට ගන්න එක. දකින රූපයට, ශබ්දයට, ගඳ සුවඳට අනුව මේ ඔක්කොම චේතනාව වෙනස් වෙවී යනවානෙ. තමන්ගේ වසඟයේ පවත්වන්න බැනෙ. ස්පර්ශය වෙනස් වෙන්නේ යම් ආකාරයකටද, ඊට අනුව චේතනාව වෙනස් වෙනවානෙ. කොහොමද චේතනාව පුලුවන්ද ඇහුවා තමන්ගේ අණසකට අනුව, අනේ බෑ භාග්‍යවතුන් වහන්ස. උත්තර දීපං

සිහියෙන්. කලින් කිව්වෙ මොකක්ද, දැන් කියන්නෙ මොකක්ද. විඤ්ඤාණය පුලුවන්ද ඇහුවා තමන්ගේ වසඟයේ පවත්වන්න. අනේ බෑ කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ අහනවා අග්ගිවිස්සන, අග්ගිවිස්සන හොඳ කල්පනාවෙන් උත්තර දෙන්න ඕන. ඒ තමයි ඔබ හිතන්නෙ මොකක්ද, රූපය නිත්‍යය දෙයක්ද, අනිත්‍යය දෙයක්ද. රූපං නිච්චං වා අනිච්චං වා ති, ස්වාමීනී අනිත්‍යයයි. අනිත්‍යය දේ දුකයි ද සැපයි ද. දුකයි. යමක් අනිත්‍යය නම්, දුක නම්, වෙනස් වෙනවා නම් ඒක මම, මගේ, මගේ ආත්මය කියලා තමන්ගේ වසඟයට ගන්න පුලුවන්ද. එහෙම හිතන එක සුදුසු ද කියලා ඇහුවා. අනේ ස්වාමීනී ඒක සුදුසු නෑ. වේදනාව නිත්‍යයි ද, අනිත්‍යයිද. ස්වාමීනී අනිත්‍යයයි. යමක් අනිත්‍යය නම් ඒක දුකයි ද සැපයි ද. යමක් අනිත්‍ය නම් දුක නම් වෙනස් වෙනවා නම් ඒක මම, මගේ, මගේ ආත්මය කියාල ගන්න සුදුසු ද. ස්වාමීනී ඒක සුදුසු නෑ. සංඥාව නිත්‍යය ද, අනිත්‍යය ද. අනිත්‍යයයි. යමක් අනිත්‍යය නම් ඒක දුකයි ද සැපයි ද. දුකයි. යමක් අනිත්‍යය නම්, දුක නම් වෙනස් වෙනවා නම්, ඒක මම, මගේ, මගේ ආත්මය කියලා ගන්න සුදුසු ද? සුදුසු නෑ ස්වාමීනී. සංස්කාර නිත්‍යය ද, අනිත්‍යය ද? අනිත්‍යයයි. යමක් අනිත්‍යය නම් ඒක දුකයිද, සැපයි ද? දුකයි. යමක් අනිත්‍යය නමු, දුක නම්, ඒක වෙනස් වෙනවා නම් ඒක මම, මගේ, මගේ ආත්මය කියලා තමන්ගේ වසඟයට ගන්න පුලුවන් කියලා හිතන එක සුදුසු ද? සුදුසු නෑ ස්වාමීනී. විඤ්ඤාණය නිත්‍යය ද, අනිත්‍යය ද අග්ගිවිස්සන? අනිත්‍යයයි ස්වාමීනී. යමක් අනිත්‍යය නම් ඒක දුකයි ද, සැපයි ද? දුකයි. යමක් අනිත්‍යය නම් දුක නම් ඒක මම, මගේ, මගේ ආත්මය කියලා ගන්න සුදුසු ද? සුදුසු නෑ කියලා කිව්වා. ඔන්න මතක තියාගන්න මේ බුද්ධ ශාසනයේ දුක කියලා කියන්නෙ අනිත්‍යය යද නිච්චං තං දුක්ඛං, යමක් අනිත්‍යය නම් ඒක දුකයි. දැන් දුක් වේදනාව දුකක් වෙන්නෙ දුක් වේදනාව අනිත්‍යය නිසා. සැප වේදනාව දුකක් වෙන්නෙ සැප වේදනාව අනිත්‍යය නිසා. සැපදුක් රහිත වේදනාව දුකක් වෙන්නෙ අනිත්‍යය නිසා. රූපය දුකක් වෙන්නෙ අනිත්‍යය නිසා. වේදනාව දුකක් වෙන්නෙ අනිත්‍යය නිසා. සංඥාව දුකක් වෙන්නෙ අනිත්‍යය නිසා. සංස්කාර දුකක් වෙන්නෙ අනිත්‍යය නිසා. එතකොට මේ දුකයි දුකයි කියලා කියන්නෙ මේ බුද්ධ ශාසනයේ දුක් විඳීම නෙවෙයි. යමක් අනිත්‍යයද එය දුකයි. යමක් අනිත්‍යය නම් ඒක දුකයි. එහෙනම් දුක කියන එක ප්‍රකට වෙන්න අනිවාර්යයෙන් අනිත්‍යය කියන එක තේරෙන්න ඕන. අනිත්‍යය තේරෙන්න පටිච්ච සමුප්පාදය තේරෙන්න ඕන. හේතුඵල දහම. හේතුව වෙනස් වෙනකොට ඵලය වෙනස් වෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ මේ විදියට

අහලා, කියනවා, ඈ අග්ගිවිස්සන ඔබ මොකක්ද හිතන්නෙ. දුකේ ඇලිලා, දුකටම පැමිණිලා, දුකේම බැසගෙන ඒ දුකම මම, මගේ, මගේ ආත්මය කියලා දකිනවා. ඒ දැකීම තුළ ඔහුට දුක අවබෝධ කරන්න පුලුවන්ද, දුක අවසාන කරන්න පුලුවන්ද? භවත් ගෞතමයන් වහන්ස, ඒවා කොහොම කරන්න ද කියලා ඇහුවා. දැන් අපිට වෙච්චි දේ ඔය කියන්නෙ. දරුවන්ට බැඳිලා, ඥාතීන්ට බැඳිලා, හිතමිත්‍රාදීන්ට බැඳිලා, ඉඩකඩම් වලට බැඳිලා ඒවා හිතන ගමන්ම නිවන් දකින්න ඕන කියනවා. දුකේම බැසගෙන දුකටම ඇලිලා, දුකම හොය හොයා දුකින් නිදහස් වෙන්න හිතනවා. පුලුවන්ද කියලා ඇහුවා. පුදුම සහගතයි. නිවනද ඇත, නිර්වාණ මාර්ගය ද ඇත, ශ්‍රී සද්ධර්මය ද පිරිසිදුව ඇත, අපි තුළයි තියෙන්නෙ අර්බුදය. කෝ මේවා අනිත්‍යය විදියට අපි කල්පනා කරනවාද, දුක් සහිත දේවල් විදියට කල්පනා කරනවාද. මේවා අපගේ වසඟයේ පවත්වන්න බෑ කියලා කල්පනා කරනවාද. හිතන්නෙම අපිට ඕන කියලානෙ. හිතන්නෙම මගේ කියලානෙ. හිතන්නෙම මට ඕන කියලානෙ. හැමදෙයක්ම. පුදුම සහගතයි අපේ හිත් නම්. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා එහෙම නිවන් දකින්න පුලුවන්ද කියලා. බෑ කියලා කිව්වා. පින්වත් අග්ගිවිස්සන මේ ගැන මොකක්ද කියන්නෙ. ඔබත් දුකට ඇලිලා, දුකට පැමිණිලා, දුකේ බැසගෙන, ඒ දුකම නේද මම, මගේ, මගේ ආත්මය කිය කියා ඔය යන්නෙ. ඔහෙත් එහෙම නේද කරන්නෙ කියලා ඇහුවා. ඊටපස්සෙ කියනවා අනේ භවත් ගෞතමයන් වහන්ස, නැත්තෙ මොකද මටත් උනේ ඕකම තමයි කිව්වා. අනේ ඒ කාලෙ මිනිස්සු හරී විවෘතයි. ස්වාමීනී මටත් වුනේ මේක තමයි. මට ඒක වැටහෙන් නැතිව මම මේවා ආත්මයි ආත්මයි කියන දෘෂ්ටියේ හිටියා කිව්වා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පින්වත් අග්ගිවිස්සන, ඕක මේ වගේ දෙයක්. අරටුවක් හොයන්න ඕන කියලා මිනිහෙක් කැලේට ගිහිල්ලා නොපීදුන කෙසෙල් ගහක් - නොපීදුන කෙසෙල් ගහක් කියනකොට මැද ගොබෙත් නෑ - එතකොට නොපීදුන කෙසෙල් ගහක් කපලා ඒකෙ අගයි මුලයි දෙක කපලා පතුරු ගගහ අරටුවක් හොයනවා. එලයක්වත් නැති එකේ අරටුවක් කොහෙන්ද. ආන්න ඒවගේ තමයි ඔහෙත් මාත් එක්ක වාද කරන්න ඕන, විවාද කරන්න ඕන කියලා ඇවිල්ලා මං ඔහේගෙන් කරුණු කාරණා විමසාගෙන විමසාගෙන යද්දි හර සුන් වුනා, හිස් වෙලා ගියා. පැරදිලා ගියා. නමුත් අග්ගිවිස්සන ඔහේට මතකද, ඔහේම විශාලා මහනුවර මිනිස්සු මැද කිව්වා නේද, මේ කට්ටිය රහත් වෙලාය, කට්ටිය සම්බුදු වෙලාය කියලා කියාගෙන යනවා, මං ගිහිල්ලා වාද කලොත් කම්පා වෙනවා, සැලෙනවා, වෙව්ලලා යනවා,

කිහිලි වලින් දාඩිය දානවා, ඔය ශ්‍රමණ බ්‍රාහ්මණවරු මාත් එක්ක කතා කරලා කතා කරන්න පුලුවන් එක්කෙනෙක් වත් මේ පෘථිවි මණ්ඩලයේ නැතය, මේ ගල් කණුවක් එක්ක මං වාද කලොත් ගල් කණුවත් සෙලවෙන එකේ ඔය නරයෝ කවුද කියලා මහාලොකුවට, ඈ අග්ගිවිස්සන ඔහේ කිය කියා ගියා නේද. ඉතින් අග්ගිවිස්සන බලාපන් කිව්වා ඔහේ. ඔගේගේ දාඩිය සම්පූර්ණයෙන්ම මූණෙන් වැටිලා සළුවට වැටිලා, සළුව තෙත් වෙලා බිමට වැටිලා. මේ බලාපං කිව්වා දාඩිය දාන හැටි. අග්ගිවිස්සන මා දෙස බලන්න කියලා බුදුරජාණන් වහන්සේ සිවුර මොහොතක් මෙහෙම පාත් කලා. මුලු සම්බුද්ධ ජීවිතයටම එසේ කලාමයි. චීවරය පොඩ්ඩක් මෑත් කරලා කිව්වා අග්ගිවිස්සන බලාපං මගේ ශරීරය දිහා. දාඩිය බිංදුවක් නෑ, කොහොමද අපේ ශාස්තෘන් වහන්සේ. දාඩිය බිංදුවක් නෑ කිව්වා. සච්චකට මුළු ජීවිත කාලෙම වචන අමතක වුනා. සිතිවිලි අමතක වුනා, වාද විවාද අමතක වෙලා පිළිමයක් තිබ්බා වගේ ඔළුව මෙහෙම බිම බලාගෙන හිටියා. එතකොට ඔතන හිටියා, දුර්මුඛ කියලා ලිච්ඡවි දරුවෙක්. ඒ කියන්නෙ දුර්මුඛ කියන්නෙ මෙයාගෙ කට හරි නෑ කියලා. කට හරි නෑ කියන්නෙ මොකක් කියයි ද දන්නෑ. හරී පුදුම විදියට වචන එනවා, ලිච්ඡවි කුමාරයෙක්. ඒ කුමාරයා නැගිටලා කිව්වා, භාග්‍යවතුන් වහන්ස, මට උපමාවක් වැටහෙනවා. මොකක්ද දුර්මුඛ ඔබට වැටහෙන උපමාව. ස්වාමීනී, පොකුණක් ළඟට ගියාට පස්සෙ ඒ පොකුණ ළඟ ඉන්නවානෙ කක්කුට්ටො. ඔය කක්කුට්ටෙක් පොඩි ළමයි ටිකක් පොකුණට බැහැලා කක්කුට්ටා ගත්තා උඩට. අරන් මේ කක්කුට්ටා යම්කිසි අඬුවක් එළියට දානවද දාන දාන අඬුව මේ පොඩි උන් කඩනවා. කැඩුවට පස්සෙ ඒ කක්කුට්ටට යාගන්න බැරිව ඔහේ ඉන්නවා කිව්වා. ඒ වගේ භාග්‍යවතුන් වහන්ස මේ සච්චකයා මහා ඉහළින් දොඩාගෙන ඇවිල්ලා මහා ලොක්කා වගේ ඇවිල්ලා මෙතන ඉඳගත්තා. අපිටත් ලොකු කතාවක් කියාගෙන තමයි මේ අපිත් අරන් ආවෙ. හැබැයි මේකා යම් යම් වචනයක් කියනවාද, කියන කියන වචනය භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ කැඩී බිඳී සුණුවිසුණු වී ගියා. කක්කුට්ටාගේ දාන දාන අඬුව කැඩුණට පස්සෙ ඒ කක්කුට්ටාට කරකියාගන්න දෙයක් නැතිව පොකුණටත් බැහැගන්න බැරිව ඉන්නවා වගේ දැන් මේ සච්චකයාට අද ඉඳලා නම් ලොකු ලොකු කතා බොරු. අද ඉඳලා නම් භාග්‍යවතුන් වහන්සේ ඉන්න දිහාවවත් බලලා කට ඇරීම බොරු. අද ඉඳලා මේකාගෙ වාද විවාද ඉවරයි. අඬු බඬු කැඩුනු කක්කුට්ටෙක් වගේ. කියනකොටම ඔන්න දැන් හොඳට වැදුනනෙ, වැදිච්ච ගමන් සිහිය ආවා සච්චකට. සච්චක කිව්වා දුර්මුඛට, කටවහපං, ඔහේ අවකැපෙන කතා කියන

බව කවුරුත් දන්නවා. දැන් උඹගේ ඔය කතායි, මගේ කියන කතායි, අපේ වාචාල කතා වැඩක් නෑ මේ වගේ තැනකට. ලොව්තුරා සම්මා සම්බුදුවරයෙක් අපි ඉදිරියේ වැඩ ඉන්නවා. දුර්මුඛ උඹත්, මමත්, අපි ඔක්කොම භාග්‍යවතුන් වහන්සේගෙන් යමක් ඉගෙන ගත යුතුයි. ඒ නිසා භාග්‍යවතුන් වහන්සේගෙන් අපි දහම් කරුණු අහන්න ඕන. එහෙනම් උඹ ඉඳගනිං, කියලා සච්චක ආපහු භාග්‍යවතුන් වහන්සේට වැන්දා. වැඳලා කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයෝ ඉන්නවා, භය නෑ. විශාරදයි. සැකයක් නෑ. භාග්‍යවතුන් වහන්සේ යමක් දේශනා කරනවාද, ඒක ඒ විදියටම පිළිපැදලා මේ ලෝකයේ අන්‍යාගමික ශ්‍රමණ බ්‍රාහ්මණවරු මොන මොන අදහස් දැම්මත් තමන්ගේ අදහසේ ඉන්නවා විශාරදව. සැක නැතිව. ඇත්තටම භාග්‍යවතුන් වහන්ස මේක කොහොමද වෙන්නෙ. පින්වත් අග්ගිවිස්සන ඒ මගේ ශ්‍රාවකයා යම්කිසි රූපයක් තියෙනවා නම් අතීත, අනාගත, වර්තමාන, ගොරෝසු, සියුම්, හීන, ප්‍රණීත, දුර, ළඟ, යම්කිසි රූපයක් තියේ නම් ඒ රූපය මම නොවෙයි, මාගේ නොවෙයි, මාගේ ආත්මය නොවෙයි කියලා දියුණු කරපු ප්‍රඥාවෙන් දකිනවා. එහෙනම් ශ්‍රාවකයෙකුගේ කටයුත්තක්. දැන් ඔබ බලන්න, ඔබ ජීවිතේට මෙහෙම පඤ්චුපාදානස්කන්ධය විදර්ශනා කරලා තියෙනවාද කියලා. එකොලොස් ආකාරයකට. මොකක්ද ඒ එකොළොස් ආකාරය? අතීත - අනාගත - වර්තමාන, ගොරෝසු - සියුම්, ආධ්‍යාත්මික - බාහිර, හීන - ප්‍රණීත, දුර - ළඟ. ඔය තමයි රූපයක් ගැන කතා කරන්න පුලුවන් කාලය සහ අවකාශය. ඕනම රූපයක් අපි කතා කරන්න පුලුවන්. අතීතෙ එකක්, අනාගතේ එකක්, වර්තමානෙ එකක්. එක්කො තමා සම්බන්ධ රූපයක්, එක්කො බාහිර කෙනෙක්ගේ රූපයක්. එක්කො ගොරෝසු රූපයක්, එක්කො සියුම් රූපයක්. එක්කො හීන රූපයක්, එක්කො ප්‍රණීත රූපයක්. එක්කො දුර තියෙන දෙයක්, එක්කො ළඟ තියෙන දෙයක්. රූපයක් හිතින් මනසිකාර කරන්නෑ ඔය එකොළොස් ආකාරයකින් තොරව. ඒ එකොළොස් ආකාරයකින්ම තියෙන රූපය, වේදනාව, සංඥාව, සංස්කාරය, විඤ්ඤාණය මම නොවෙයි, මගේ නොවෙයි, මගේ ආත්මය නොවෙයි කියලා සිහි කරන්න. ඒක දියුණු කරපු ප්‍රඥාවෙන්, කුමක්ද දියුණු කරපු ප්‍රඥාව කියන්නෙ? සමථ විදර්ශනා වශයෙන් වඩන ලද නුවණින් ඔහු දකිනවා. එහෙම දකිනකොට ලෝකයේ මතවාද එද්දි, දෘෂ්ටි එද්දි, වාද විවාද එද්දි ශ්‍රාවකයාට නෑ එයින් තැතිගැනීමක්, සැකයක්, කුකුසක්. ඒ ශ්‍රාවකයා ඒ දහම තුළ පිහිටලා ඉන්නෙ. විශාරද බවට පත්වෙලා ඉන්නෙ. බාහිර උපකාර නැතිව ශාසනයේ පිහිට ගන්නවා. ඊටපස්සෙ භවත්

ගෞතමයන් වහන්ස, කව්ද මේ රහතන් වහන්සේලා කියන්නෙ? ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා ඔය විදියට එකොළොස් ආකාරයකින් පවතින්නා වූ පඤ්චුපාදානස්කන්ධය. අතීත, අනාගත, වර්තමාන, ගොරෝසු, සියුම්, තමා, බාහිර, හීන, ප්‍රණීත, දුර, ළඟ. එකොළොස් ආකාරයකින් පවතින මේ පඤ්චුපාදානස්කන්ධය මම නොවේ, මගේ නොවේ, මගේ ආත්මය නොවේ කියලා දියුණු කරපු ප්‍රඥාවෙන් දැකලා උපාදාන රහිත වෙලා ඒ කියන්නෙ පඤ්චුපාදානස්කන්ධය කෙරෙහි බැඳෙන් නැතිව ඒ පඤ්චුපාදානස්කන්ධය කෙරෙහි තියෙන බන්ධනයෙන් නිදහස් වෙලා වාසය කරනවාද, කෙලෙස් වලින් නිදහස් වෙලා වාසය කරනවාද, අග්ගිවිස්සන ඒ කෙනාට තමයි රහතන් වහන්සේ කියන්නෙ. එතකොට ඒක අනිත්‍යය වශයෙන් බල බලා ඉන්න කෙනා ශ්‍රාවකයා. එයා ඒ සේඛ අය. මාර්ගය පුරුදු කරන අය. එහෙම බලලා ඒ පඤ්චුපාදානස්කන්ධය කෙරෙහි තියෙන බැඳීමෙන් කෙලෙස් වලින් නිදහස් වෙලා නම් ඒ කෙනාට කියනවා රහතන් වහන්සේ. නිවන් මඟ සම්පූර්ණ කරලා, කළයුතු දේ කරලා කෙලෙස් බර විසි කරලා, පිළිවෙලින් ශ්‍රේෂ්ටත්වයට පත්වෙලා භව බන්ධන නැති කරගෙන අවබෝධයකින් යුතුව දුකින් මිදුනු කෙනා බවට පත්වෙලා තියෙන්නෙ ඒ විදියට. පින්වත් අග්ගිවිස්සන, ඔය විදියට අර්හත්වයට පත්වුනු භික්ෂුව කාරණා තුනකින් අනුත්තරීයයි, ඒ කියන්නෙ ශ්‍රේෂ්ටයි. එතනින් එහාට නෑ. ඒ තමයි ඒ රහතන් වහන්සේලා දැක්මෙන් අනුත්තරීයයි, දස්සනානුත්තරීයයි. ප්‍රතිපත්තියෙන් අනුත්තරීයයි, විමුක්තියෙන් අනුත්තරීයයි. ඒ කියන්නෙ උන්වහන්සේලා දැකලා තියෙන්නෙ ශ්‍රේෂ්ටම ධර්මයක්. උන්වහන්සේලා පුරුදු කරලා තියෙන්නෙ ශ්‍රේෂ්ටම දෙයක්. උන්වහන්සේලා නිදහස් වෙලා තියෙන්නෙ ශ්‍රේෂ්ට විදියට. ශ්‍රේෂ්ට විමුක්තියක් තියෙන්නෙ. දස්සනානුත්තරීය, ඊළඟට ප්‍රතිපත්තියෙන් අනුත්තරීය, විමුක්තියෙන් අනුත්තරීය. ශ්‍රේෂ්ට බවට පත්වෙලා. ඊටපස්සෙ ඒ ශ්‍රේෂ්ටත්වයට පත්වුනු ඒ ශ්‍රාවකයො බුදුරජාණන් වහන්සේටම ගරු කරනවා. අන්න කොහොමද, සත්කාර කරනවා, ගරු කරනවා, බුහුමන් කරනවා, පූජාවන් පවත්වනවා, රහත් වුනත් බුදුරජාණන් වහන්සේටම වැඳ වැඳ ඉන්නවා. අද කාලේ රහතුන් ගැන කවර කතා ද. අද කාලේ රහතුන් බුදුන් පුදනවාට කැමැති නෑ. බුදුන්ට සත්කාර කරනවාට කැමැති නෑ. දැන් බලන්න ඒ කාලේ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා අර්හත්වයට පත්වුන අය බුදුරජාණන් වහන්සේටම වැඳ වැඳ ඉන්නවා. කොහොමද වඳින්නෙ. බුද්ධො සො භගවා බොධාය ධම්මං දෙසෙති, බුදුරජාණන් වහන්සේ අවබෝධ කලා, අවබෝධය පිණිස අන් අයට

දහම් දේශනා කරනවා. දන්තො සො භගවා දමතාය ධම්මං දෙසෙති, භාග්‍යවතුන් වහන්සේ දමනය වූ සේක. දමනය පිණිස දහම් දේශනා කරන සේක. ඊළඟට සන්තොසො භගවා සමතාය ධම්මං දෙසෙති, භාග්‍යවතුන් වහන්සේ සන්සිඳුන සේක, සන්සිඳීම පිණිස දහම් දේශනා කරන සේක. තින්නො සො භගවා තරණාය ධම්මං දෙසෙති, භාග්‍යවතුන් වහන්සේ සසරින් එතෙරට වැඩි සේක. සසරින් එතෙරට වැඩම කිරීම පිණිස සසරින් එතෙරවීම පිණිස දහම් දේශනා කරන සේක. ඊළඟට නිබ්බුතො සො භගවා පරිනිබ්බාණාය ධම්මං දෙසෙති, පිරිනිවන් වැඩිය බුදුරජාණන් වහන්සේ පිරිනිවෙන්න දහම් දේශනා කරනවා. කොච්චර ලස්සනද. ඔබ බුදුගුණ කතා කරන, බුදුගුණ කියන ඔබගේ වන්දනාවට එකතු කරගන්න මේක. මහා සෑය, මහා බෝධිය පැදකුණු කරන්න. අංගුලිමාල සෑය පැදකුණු කරන්න. බුද්ධො සො භගවා බොධාය ධම්මං දෙසෙති දන්තො සො භගවා දමතාය ධම්මං දෙසෙති සන්තො සො භගවා සමතාය ධම්මං දෙසෙති තින්නො සො භගවා තරණාය ධම්මං දෙසෙති නිබ්බුතො සො භගවා නිබ්බාණාය ධම්මං දෙසෙති. ශාන්තයි, ප්‍රණීතයි. රහතන් වහන්සේලා ඔය විදියට තමයි කියනවා බුදුරජාණන් වහන්සේගේ සිරිපා කමල් ළඟ වැඳ වැටෙන්නෙ. එතකොට සච්චක භාග්‍යවතුන් වහන්සේට මෙහෙම කිව්වා. ගෞතමයන් වහන්ස, අපිමයි වැනසුනෙ. අපිමයි හිතුවක්කාර වුනෙ. ගෞතමයන් වහන්සේ වාදයකට පටලවලා හැප්පෙන්න හිතුවා. මදකිපුනු ඇතෙක් එක්ක හැප්පිලා කෙනෙකුට සෙතක් වෙන්න පුලුවන්. භාග්‍යවතුන් වහන්සේත් එක්ක කෙනෙක් හැප්පෙන්න ආවොත් නම් ඉවරයි. ගෞතමයන් වහන්ස, ඇවිලෙන ගිනිකන්දක් ගිනිජාලාවක් වැළඳගෙන මනුස්සයෙකුට යහපතක් වෙනවා කියලා හිතන්න පුලුවන්. බුදු කෙනෙක් එක්ක හැප්පෙන්න ගියොත් නම් සෙතක් නම් නෑ. විෂඝෝර සර්පයෙක් වැළඳගෙන කෙනෙක්ට යහපතක් වෙන්න පුලුවන්. බුදු කෙනෙක් එක්ක හැප්පෙන්න ගියොත් නම් යහපතක් නම් වෙන් නෑ. භවත් ගෞතමයන් වහන්ස, අපිමයි වැනසුනේ. අපිමයි හිතුවක්කාර වුනෙ. අපිමයි භාග්‍යවතුන් වහන්සේත් එක්ක හැප්පෙන්න හිතුවෙ. ස්වාමීනී, මට අනුකම්පා කරන්න. භාග්‍යවතුන් වහන්සේට පුලුවන්ද හෙට අපේ ගෙදර දානෙට වඩින්න. බුදුරජාණන් වහන්සේ නිහඬ වුනා. පහුවදා ලිච්ඡවි කියනවා නිගණ්ඨ ලිච්ඡවි, ලිච්ඡවියිනි, උඹලා වරෙල්ලා මගේ වචනය අහපල්ලා, හෙට දානෙ තියෙනවානෙ, උඹල මට දානෙ කළමනා ගෙනත් දීපල්ලා. සච්චක ගිහිල්ලා දන්හල හැදුවා. ඔක්කොම දානෙ ගෙනත් දුන්නෙ මිනිස්සු, ලිච්ඡවි කුමාරවරු.

සච්චකට මොනවත් හදන්න දෙයක් නෑ. සච්චක බුදුරජාණන් වහන්සේට දානෙ පිදුවා. සච්චකට අවසානෙ හිතුනා මේ හැමදෙයක්ම දානෙ කළමනා ගෙනත් දුන්නෙ මිනිස්සුනෙ මට. මම බුදුරජාණන් වහන්සේට දානෙ බෙදුවට පින කොහොමද දන්නෙ නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ළඟට ගිහිල්ලා කිව්වා, භවත් ගෞතමයන් වහන්ස, මේ දානයේ යම්කිසි පුණ්‍ය සම්පත්තියක් ඇතිවෙනවා නම් ඒක දායකයන්ට සැප පිණිස වේවා. මට දානෙ ගෙනල්ලා දුන්නු අයට මේ පින අයිති වේවා කියලා. බුදුරජාණන් වහන්සේ එදා ලස්සන වාක්‍යයක් වදාළා. පින්වත් අග්ගිවිස්සන ඔබ රාගය දුරු නොකරපු කෙනෙක්. ද්වේෂය දුරු නොකරපු කෙනෙක්. මෝහය දුරු නොකරපු කෙනෙක්. මිනිස්සු ඔහේට තියෙන පැහැදීමට නම් දානෙ කළමණා ගෙනත් දුන්නෙ රාග, ද්වේෂ, මෝහ දුරු නොකරපු ඔබට දානය දීමේ පින ඒ අයට. ඒ අයට අයිති වෙන්නෙ ඔබට දුන්නු පින. සම්මා සම්බුදුරජාණන් වහන්සේ කියන්නෙ රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කරපු කෙනෙක්. ඒ නිසා ඔබ දානය බෙදුවේ බුදු කෙනෙකුට නම්, රාග ද්වේෂ මෝහ දුරු කරපු බුදු කෙනෙකුට දානය පිදීමේ පින ඔබට අයිති වෙනවා. දැන් එතකොට කල්පනා කරන්න බලන්න, සමහර මිනිස්සු දානෙ ටික ගෙනල්ලා පන්සලේ ඇබිත්තයාට දීලා යනවා. එතකොට ඇබිත්තයාට දන් දීමේ පින මිනිස්සුන්ට. තමන්ගේ අතින් සංඝයාට දන් බෙදන්න ඕන. බෙදන්න අවස්ථාවක් නැත්නම් නායක හාමුදුරුවන්ට හරි කාට හරි කතා කරලා මහා සංඝරත්නය උදෙසා කියලා සංඝයාගේ අතට පිළිගන්වන්න ඕන. මේ බුද්ධ වචන තියෙන්නෙ. අපි දාන්න ඕන නෑ සැබෑ ධර්මය. ඉතින් ඒ නිසා තමන්ට දෙන කෙනාට අනුව තමයි ඒකෙ පින තියෙන්නෙ. තමන්ගේ සියතින් බෙදන්න ඕන, සියතින් පිළිගන්වන්න ඕන. සියතින් කැප කරන්න ඕන. දැන් මේ සච්චකගෙ කතාවෙ තියෙන්නෙ. ඒ නිසා එය පසෙක තැබේවා, කල්පනා කරන්න ඕන අපගේ ශාස්තෘන් වහන්සේ මේ සච්චක සූත්‍රය පුදුම සහගතයි. සිවුර මෑත් කරලා පෙන්නුවා, බලන්න කිව්වා මේ රන්වන් ශ්‍රී දේහය, දාඩිය බිංදුවක්වත් තියෙනවාද කියලා. ඒයි සච්චක බලාපං කිව්වා උඹගේ දාඩිය වැටෙන වැටිල්ල. පුදුමයි, සිංහ රාජයෙක්, මහා විශාරද උත්තමයෙක්. බුදුරජාණන් වහන්සේ. කවුද බුදුරජාණන් වහන්සේත් එක්ක හැප්පෙන්නෙ. කවුද බුදුරජාණන් වහන්සේ ළඟ වාද කරන්නෙ. කරුණු සහිතව භාග්‍යවතුන් වහන්සේ එක වචනයක් ප්‍රකාශ කරනකොට ආයෙ මොන වාදද. ඒ නිසා ඒ වගේ පරම ගම්භීර ශ්‍රී සද්ධර්මය මැනැවින් දේශනා කල සිහනද පැතිරූ ඒවගේම අකම්පිත ඉන්ද්‍රඛීලයක් පොළොවේ මනාව හිටවන ලද මහා ඉන්ද්‍රඛීල ගල්ටැඹක් සුළඟින්

සෙලවෙන් නැතිව වාසය කරනවා වගේ ඒ කාලයේ පෘථිවි මණ්ඩලයේ හිටපු වාද විවාද වලින් ජීවිතේ කරගත්ත මිනිස්සුන්ගේ වාද විවාද හමුවේ බුදුරජාණන් වහන්සේ අකම්පිතව මෙසේ ශ්‍රී සද්ධර්මය දේශනා කලා. දිවිහිමියෙන් නිවන් දකිනතුරු, දිවි තිබෙන තුරු, අපේ බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් විශාරද ශ්‍රී සද්ධර්මය අපගේ හද තුළ ද පිහිටාවා. අපිටත් මේ දහමේ පිහිට ගන්න වාසනාව ලැබේවා.

ඉතින් පින්වත්නි අද අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ 1325/11, හතරවන මාවත, බෝගහවත්ත පාර, පන්නිපිටිය ලිපිනයේ පදිංචි පින්වත් ඉන්දිකා බස්නායක මහත්මිය සහ ජිනේන්ද්‍ර විජේරත්න මහත්මයා ඇතුලු පවුලේ සියලු දෙනා. ඉතින් මේ සියලු දෙනා රැස් කරගත්ත පින් සියලු දෙවියෝ අනුමෝදන් වෙත්වා, ඒ වගේම දායකත්වය දැරූ පින්වතුන් නමින් කවුරුත් නමින් මියපරලොව ගිය සියලුම ඥාතීන්ට පින් අනුමෝදන් වෙත්වා. මියගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා. පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා අපි මේ උතුම් ශ්‍රී සද්ධර්මය මේ විදියට ශ්‍රවණය කරන්නෙ. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වෙත්වා, අනුමොදන් වේවා. නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂම ලබත්වා කියලා අපි උන්වහන්සේට පින් දෙමු. ඒ වගේම ගුරු දෙවිඳුන් ඇතුලු ගරුතර මහා සංඝරත්නයට අනගාරිකා මෑණිවරුන්ට පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් බලයෙන් ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම දැනට අසනීප තත්ත්වයෙන් පසුවන සිරිල් බස්නායක පියාණන්ට සහ තමරා විජේරත්න මෑණියන්ට ඉක්මණින් නිදුක් නිරෝගී සුවපත් භාවය මේ බුදුසසුනේ පිහිට ලැබේවා. බෝගහවත්ත, පන්නිපිටිය, හතරවෙනි මාවතේ පින්වත් ඉන්දිකා බස්නායක මහත්මිය, ජිනේන්ද්‍ර විජේරත්න මහත්මයා ඇතුලු පවුලේ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. උදව් උපකාර කල සියලු දෙනාටත් ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන් විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට ධර්මය අහන ඔබ සියලු දෙනාට, අපගේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට කාටත් මේ පින් අනුමෝදන් වේවා. මේ පින් බලයෙන් උතුම් තිසරණයෙන් අසිරිමත් සම්බුදු සරණින් පිහිට ලැබේවා. ගෞතම සසුනේ පිහිට ලැබේවා. නිවනින් සැනසෙත්වා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=b2Dpge_vWp4&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=66

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම වේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අදත් අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ ආශ්චර්‍යයී සිදුවීම් කිහිපයක් අපි අද ඉගෙන ගන්නවා. අදත් අපි ඉගෙන ගන්නෙ ඉතාමත් ලස්සන දේශනාවක්. භාග්‍යවතුන් වහන්සේ විෂයෙහි චිත්ත ප්‍රසාදය ඇතිවීම පිණිස. අද දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ එංගලන්තයේ පදිංචි පින්වත් මහීෂා පුණ්‍යවර්ධන මහත්මියත්, සතිර පිලිප් මහත්මයාත්, ඒ වගේම කයිල් පුතණුවන් සහ ඇඩ්ල් දියණිය විසින්. මේ පින්වතුන් එකතුව අද ධර්ම දායකත්වය දරනවා, ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකගේත් අසිරිමත් බුද්ධ ශාසනයේත් ආනුභාවය ලෝකයට අහන්න සලස්වන ඒ මහානුභාවසම්පන්න පින ඔබව සුවපත් කරනවා, ඔබ බොහෝ සැපයට පත් කරනවා, ශාසනයේ පිහිටට ඔබව ළං කරනවා. ඒ නිසා සන්තෝෂයට පත්වෙන්න ධර්ම දානය ගැන. අද අපි කතා කරන්නේත් බුදුරජාණන් වහන්සේ

සම්මා සම්බුදුවරයෙක් විදියට සමාජයේ අර්බුද වලදී මුහුණ දුන්නු ආකාරය. ඒවා සිහි කරනකොට පුදුම සහගත හිතෙනවා. දැන් බලන්න සච්චක, සච්චකගේ ප්‍රශ්නයේදි සච්චක වාද කරන්න ආපු විදිය, එතකොට ඒ සච්චකගේ සිදුවීම ජයමංගල ගාථා වලදී සත්‍ය ක්‍රියා කරලා සෙත් ප්‍රාර්ථනා කරනවානෙ. ඒ කියන්නෙ ඒ තරම්ම කාටවත් මැඩපවත්වන්න බැරි වාදය පෙරටු කරගත්ත කෙනෙක් සච්චක. ඥාණාගදෙන විදිනා, ඥාණය නැමැති ආයුධයෙන් පහර දීලා බුදුරජාණන් වහන්සේ ඔහුගේ වාදය බින්දෙ, ප්‍රඥාවම පෙරටු කරගෙන. අතින් පයින් නෙවෙයි. පීඩාවට පත් කිරීමෙන් නෙවෙයි. අද කාලෙ වාද විවාද කියන්නෙ පීඩාවට පත් කිරීම, ඊළඟට කටේ සැර, ඕවා තමයි අද කාලෙ ප්‍රඥාව නෙවෙයි. ඒ නිසා තමයි අද කාලෙ දහම් කරුණක් සම්මුඛව කතා කරන්න අමාරු. කෙසේ නමුත් ඔබට මේවා ඉගෙන ගන්නකොට පැහැදීමක් ඇතිවෙනවා නම් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ගැන ඒ පැහැදීම රැකගන්න ඕන, නාගයෙක් මාණික්‍යයක් ආරක්ෂා කරනවා වගේ. දිළින්දෙකුට ලැබුනු නිධානයක් ආරක්ෂා කරනවා වගේ. ඒ මාණික්‍යය ඒ චිත්ත ප්‍රසාදය ආරක්ෂා කරන්න ඕන. අද කාලෙ මනුෂ්‍යයාට තුණුරුවන් ගැන චිත්ත ප්‍රසාදයක් ඇතිවෙනවා නම් ඒක සුලුයි කියලා හිතන්න එපා. බුදුරජාණන් වහන්සේ පවා උපන් චිත්ත ප්‍රසාදය ආරක්ෂා කරගැනීම බොහෝ සේ වර්ණනා කලා. කෙනෙකුට තුණුරුවන් ගැන පැහැදීම ඇතිවෙනවා නම් ඒ පැහැදීම ඇතිකරවන්න බුදුරජාණන් වහන්සේ ගව් ගණන් වැඩම කලා. උන්වහන්සේ සසර දුකින් එතෙරට පත්වුනා. නමුත් මේ ලෝක සත්ත්වයාට අනුකම්පා පිණිස උන්වහන්සේ වැඩම කලේ. දැන් බලන්න සච්චකට බුදුරජාණන් වහන්සේ එච්චර ධර්මයක් දේශනා කරලා අවසානෙ පහුවදා එයා බුදුන් සරණ යනවා, දහම් සරණ යනවා, සඟුන් සරණ යනවා කියලා කියන් නෑ. නමුත් පහුවදා දනට ආරාධනා කරනවා. දානෙ වැළඳුවා. අනුකම්පා පිණිස, පස්සෙ කාලෙ සච්චක ලංකාවෙ ඉපදුනා. කළුබුද්ධකරක්ඛිත කියලා රහතන් වහන්සේ නමක්. උන්වහන්සේ තමයි කළුදිය පොකුණේ, කළුවර දාක, කළු තිඹිරි ගහක් යට, කළු ගල් ආසනේ කාලකාරාම සූත්‍රය දේශනා කලේ රැයක් එළිවෙනතුරු බුදුගුණ. පුදුම සහගත දේවල්. උන්වහන්සේලාත් සසරින් එතෙරට වැඩියා. බුදුරජාණන් වහන්සේ යම්කිසි කෙනෙකුට මුණගැහිලා වචනයක් හරි කතා කරනවානම් ඔහුට අනාගතේ යහපතක් වෙනවාමයි. බුදුරජාණන් වහන්සේ යම්කිසි කෙනෙකුගේ නේත්‍රයට පේනවා නම් ඒ කෙනාට අනාගතේ යහපතක් වෙනවාමයි. අපි බලමු අදත් ඒ වාගේ සිද්ධියක්. මේ සිද්ධිය හරි අපූරු සිද්ධියක්. මේ සූත්‍ර දේශනාවෙ නම

උදුම්බරික සූත්‍රය. නැත්නම් උදුම්බරික සීහනාද සූත්‍රය කියලත් කියනවා. උදුම්බරී කියන දේවිය විසින් කරපු ආරාමයේ වැඩ හිටපු පරිබ්‍රාජකයා මුල් කරගෙන වදාළ දෙසුමක්. භාග්‍යවතුන් වහන්සේ මේ කාලයේ වැඩ හිටියේ රජගහනුවර ගිජ්ජකූට පර්වතයේ. නිග්‍රෝධ කියන පරිබ්‍රාජකයා උදුම්බරික දේවිය විසින් කරපු ආරාමයේ සිටිනවා, ශිෂ්‍යයො ඉන්නවා තුන්දාහක්. එතකොට හිතන්න රජගහනුවර මේ නිග්‍රෝධ පිරිවැජියට විතරක් ශිෂ්‍යයො තුන්දාහක්. එතකොට නිගණ්ඨනාතපුත්ත, අජිතකේසකම්බලී, මක්ඛලීගෝසාල ආදී අය. එතකොට තනිකර බුදුරජාණන් වහන්සේ නමක් ලෝකයේ පහළ වෙන කාලයේ ගොඩාක් අය විමුක්තිය හොය හොය හිටියා. දැන් මේ අය මේ පඤ්චකාමය සන්තර්පණය කරගෙන මේ අය අඹුදරුවන් තියාගෙන ඉන්න අය නෙවෙයි. මේ තුන්දාහම බ්‍රහ්මචාරී අය. පුදුම සහගතයි. එක තැනක විතරක්. අද ඉන්දියාවේ මේ වෙනකොට සාධුවරුම නිකායවල් දහ තුනක් තියෙනවා. එයින් එක සාධු නිකායක දස ලක්ෂයක් ඉන්නවා සාධුවරු. දැනට ඉන්දියාවේ කෝටි පහක් ඉන්නවා තාපසවරු. දැන් අද ලංකාවේ ගත්තොත් ලංකාවේ තාපස කතාවක් නැනෙ. ගිහි ජීවිතේ අත් හැරලා මහණ වෙච්චි කතාවක්නෙ තියෙන්නෙ. අද මහණ වුන භික්ෂූන් වහන්සේලා විසිපන්දාහක්, තිස්දාහක් වගේනෙ ලංකාවෙ ඉන්නෙ. අරෙහෙ එක සාධු නිකායක විතරක් දස ලක්ෂයක් ඉන්නවා. හැබැයි ඒ දස ලක්ෂයටම බුද්ධං සරණං ගච්ඡාමි කියන එක නෑ. තෙරුවන් සරණ යන් නෑ. සම්මා දිට්ඨිය නෑ. කෝටි ගණන් විමුක්තියක් හොයාගෙන ගියත් සරණ නෑ. ඊටපස්සෙ මිත්‍යා දෘෂ්ටියට පත්වෙලා භූත ලෝකත් එක්ක අහුවෙලා කොහේහරි ලෝකෙක උපදිනවා. නමුත් ඒ අතරින් සුළු පිරිසකට තමයි සම්මා සම්බුදු කෙනෙක් සරණ යන්න ලැබෙන්නෙ. ඉතින් දැන් මෙතන තුන් දාහයි. ඔන්න ඔය අතර සන්ධාන ගෘහපතියා - සන්ධාන ගෘහපතියා කියන්නෙ බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ බුදුරජාණන් වහන්සේ සරණ ගිය ශ්‍රාවකයෙක්. ඒ ගෘහපතියා පන්සීයක් තමන්ගේ යහළුවො ඉන්නවා. අනාගාමී ශ්‍රාවකයෙක්. බුදුරජාණන් වහන්සේ ඔහුගේ සරණටත්, සීලයටත්, විමුක්තියටත් ගොඩක් ප්‍රශංසා කරලා තියෙනවා. ඉතින් මේ සන්ධාන ගෘහපතියා සවස් කාලයේ භාග්‍යවතුන් වහන්සේ, ඉර මුදුන් වෙලා දහවල් කාලයේ ගෙදරින් නික්මිලා රජගහනුවර හරහා භාග්‍යවතුන් වහන්සේ බැහැදකින්න ඕනෑ කියලා ගමන් කරනවා. හැබැයි මේ සන්ධාන ගෘහපතියාට ටික දුරක් යනකොට හිතුනා, මේ මහදවාලේ මං බුදුරජාණන් වහන්සේ මුණගැහෙන්න යන එක හොඳ නෑ. දැන් බුදුරජාණන්

වහන්සේ භාවනාවෙන් වැඩ ඉන්නෙ. මනෝ බාවමය භික්ෂූන්ගෙන් වැඩ ඉන්නවා සාරිපුත්ත මොග්ගල්ලාන ආදී උත්තමයො. උන්වහන්සේලාත් දැන් භාවනාවෙන් වැඩ ඉන්නෙ. ඒ නිසා කල්පනා කලා සන්ධාන ගෘහපතියා, මම උදුම්බරී පරිබ්‍රාජකාරාමයට යන්න ඕන. නිග්‍රෝධ පරිබ්‍රාජකයා ඉන්න තැනට. හරි හොඳ තැනක් එතන. ගිහිල්ලා ටිකක් ඔය විවේකයෙන් ගස් සෙවණෙ ඉඳලා ඊටපස්සෙ මම යන්නට ඕන කියලා කල්පනා කරලා, උදුම්බරී පරිබ්‍රාජකාරාමය යම් තැනකද, නිග්‍රෝධ පරිබ්‍රාජකයා යම් තැනකද ඒ තැනට ගියා. යනකොට එදා දවාලෙ නිග්‍රෝධ පරිබ්‍රාජකයා අර තුන්දාහක් ශිෂ්‍යයොත් එක්ක නොසෑහෙන්න කතාව. කුමන කතාවක්ද, රාජ කතා, චෝර කතා, මහාමාත්‍ය කතා, ඊළඟට යුද්ධ කතා, පුරුෂ කතා, භය කතා, ආහාර කතා, අන්න කතා, පාන කතා කියන දෙතිස් කතා. රටේ ලෝකෙ තියෙන වාතාවිච්චි ටික ඔක්කෝම කතා කර කර හයියෙන් සද්දෙ, කයිය. තුන්දාහක් ඔන්න විමුක්තියක් හොයාගෙන ගිය අයගේ කතාව. ඉතින් ඒ අය දැක්කා, දුරින්ම එන සන්ධාන ගෘහපතියා. නිග්‍රෝධ පරිබ්‍රාජකයා කියනවා කටවහගනිල්ලා, දැන් කටවහගනිල්ලා. උඹලට ජේනවද ආන්න සන්ධාන ගෘහපතියා එනවා. ඔය සන්ධාන ගෘහපතියා ශ්‍රමණ භවත් ගෞතමයන් සරණ ගිය කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයන් සරණ ගිය සුදුවත් ඇඳගත්ත ගිහියො අතර කෙනෙක්. ඔය ඇත්තො හරී කැමැතියි නිහඬ බවට. යම් තැනක නිහඬයි නම් සද්දබද්ද අඩුයි නම් එතෙන්ට ඇවිල්ලා සතුටු සාමීචි කතා කරනවා. එතකොට බලන්න බුද්ධ කාලයේ අන්‍යාගමිකයො බුදුරජාණන් වහන්සේගේ ගිහි ශ්‍රාවකයන්ටත් බයයි. ගිහි ශ්‍රාවකයො ඉදිරියේත් දමනය වෙනවා. ඊටපස්සෙ සන්ධාන ගෘහපතියා - දැන් කට්ටිය ඔක්කොම නිහඬ වුනා, එතනට පැමිණියා. පැමිණිලා දැන් සන්ධාන ගෘහපතියාට හොඳට ඇහුනා අර ඇත්තන්ගේ කලකෝලාහලය. සද්දේ බෑ. ඒක දුරටම ඇහුනා. ඇත්තටම මේකෙ අටුවා වල තියෙනවා සන්ධාන ගෘහපතියා එදා බුදුරජාණන් වහන්සේ මුණ ගැහෙන්න එන්නෙත් ගෙදර සද්දෙ නිසා කියලා. පොඩි ඈයො, ගෙවල් වල සද්ද බද්ද. ඊටපස්සෙ හිත විවේකයේම ඇලුනා. ඊටපස්සෙ තමයි එයින් විවේකයක් සොයාගෙන එන්න. එනකොට දුර ඉඳලම අර තාපසයොන්ගේ සද්දෙත් ඇහුනා. ඉතින් සන්ධාන ගෘහපතියා ඇවිල්ලා කතා බහ කරලා ඉඳගෙන කියනවා හරි වැඩක්නෙ අප්පා. දැන් සන්ධාන ගෘහපතියා කියන්නෙ. මේ පරිබ්‍රාජකයන්ගේ ස්වභාවය එකක්. අපේ බුදුරජාණන් වහන්සේගේ ස්වභාවය එකක්. මේ පරිබ්‍රාජකයො එකතු වුනාට පස්සෙ මේ අන්‍යාගමික අය ඔහේ කයිය ගහනවා රාජ කතා, චෝර කතා,

ඉත්ථි කතා, පුරුෂ කතා, ඥාණකතා, වත්තු කතා ආදී දෙතිස් කතාවෙන්. ඔහේ රටේ ලෝකෙ වල් පල් ඔක්කොම කිය කියා ඉන්නවා. ඒ වුනාට බලන්නෙපෑ මම සරණ ගිය මගේ ශාස්තෘන්වහන්සේ. බුදුරජාණන් වහන්සේ හරී නිහඬයි. උන්වහන්සේ නිශ්ශබ්ද තියෙන, අල්ප ඝෝෂාව තියෙන ජනයා අතර හමාගෙන එන සුළඟ නැති විජීනවාතානි, දැන් ලෝකෙ මිනිස්සු ඔක්කොටම ඔබට පවා තියෙන්නෙ ජනවාතානය, - ජනයාගේ ඇඟෙන් එන හුළඟ. ආරාම වල වාසය කරන අයට තියෙන්නෙ විජීන වාතානි - මිනිස්සු නෑ, ගස් කොළන් අතරින් එන සුළඟ. සංඝයා අතරින් එන හුළඟ. බුදුරජාණන් වහන්සේ විජීනවාතානි මනුස්සරාහා සෙයයකානි පටිසල්ලාන සාරුප්පානි, භාවනාවට සුදුසු විවේක තැන් වල බුදුරජාණන් වහන්සේලා වාසය කරන්නෙ. ආරණ්‍ය සෙනසුන් වල, ඈත වනසෙනසුන් වල වාසය කරනවා. ඒකට මේ ඇත්තො, අප්පෝ කතාව. එතකොට පරිබ්‍රාජක ආරාමයකට ගිහිල්ලා අර තුන්දාහක් පිරිස මැද එක උපාසකයෙක් කට ඇරලා ඔහොම කතා කරන්න තරම් නිර්භීත බව කොහොමද කියලා හිතන්න. දැන් අපි කියන්නෙ මොකක්ද, වවුලගේ ගෙදර ගිහිල්ලා අපිත් කකුලෙන් එල්ලෙන්න ඕන කියලා නේද කියන්නෙ. ඒ වගේ එතෙන්ට ඕන විදියට ඉඳලා පොඩි ෂේප් එකක් දාලා එන එකක් නේද අද කාලෙ තියෙන්නෙ. බුද්ධ කාලෙ නෑ. බුද්ධ කාලෙ ඍජුයි. තුන්දාහක් පිරිස මැද එක ශ්‍රාවකයා බුදුරජාණන් වහන්සේගේ ගුණ ප්‍රකාශ කරනවා. අද නෑ. අද අන්‍යාගම් පිරිස් මැද ඔහේලාගේ ආගමයි අපෙයි ඔක්කොම එකයි, ඔක්කොම සාමය ගැන කියන්නෙ, ඔක්කොම අවිහිංසාව ගැන කියන්නෙ. ඔක්කොම යහපත් දේවල් කියන්නෙ කියලා ඔක්කොම සමාන කරනවා. කොච්චර කොඳු කඩාගත්ත ශ්‍රාවකත්වයක්ද අද තියෙන්නේ කියලා කල්පනා කරන්න වටිනවා. ඊටපස්සෙ මෙහෙම කියපු ගමන්ම නිග්‍රෝධ තාපසයට හොඳටම තරහා ගියා. තරහා ගිහිල්ලා දැන් සන්ධාන ගෘහපතියාට දැන් චෝදනාව එල්ල කරන්න බෑනෙ දැන් ඒ සන්ධාන ගෘහපතියා අනාගාමී කෙනෙක්, හරි තේජස්. ඊටපස්සේ භාග්‍යවතුන් වහන්සේ ළඟ නෑනෙ. භාග්‍යවතුන් වහන්සේටම වැරැද්ද පටවලා භාග්‍යවතුන් වහන්සේට දොස් කියන්න ගත්තා. ගෘහපතිය මේ දැන් ඔහේ කිව්වානෙ සද්ද බද්ද කතාවක්. ඔහේ දන්නවා ඔහේලාගේ ශාස්තෘන් වහන්සේගේ හැටි කිව්වා. කිව්වා, දැනගන්න අපි කියන්නම්, අපිත් ඕවා දන්නවා කිව්වා. ශ්‍රමණ භවත් ගෞතමයෝ එක්ක කවුද කතා කරන්නෙ. දැන් අපේ කතාවක් තියෙනවා අපිත් එක්ක අනිත් අය කතා කරනවා, අපි සුභදශීලීව ඉන්නවා. ශ්‍රමණ භවත්

ගෞතමයොත් එක්ක කවුද සුහදශීලීව ඉන්නෙ. ශ්‍රමණ භවත් ගෞතමයන්ට පුළුවන්ද තවත් මනුස්සයෙක්ට හොඳට කතාබහ කරන්න. ඊළඟට ප්‍රඥාවෙන් ව්‍යක්තව හොඳට කරුණු මතක තියාගන්න පුලුවන් විදියට කතා බහ කරන්න පුලුවන් ද. ඒ මිනිස්සුන් අතරට ඇවිල්ලා මනුස්සයන්ගේ හිත පැහැදෙන විදියට කතා කරගන්නවත් බැරි නිසා නේද ඔය කැලවල් වල ලැගලා ඉන්නෙ කිව්වා. හරියට ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ කතාව ශූන්‍යාගාරයේම ඉවරයි කිව්වා. ඒ කියන්නේ එතෙන්ට ඕන විදියට කතාව තියෙනවා, නැගිටලා ගියාට පස්සෙ ගන්න දෙයක් නෑ. ශ්‍රමණ භවත් ගෞතමයො ඒකයි පිරිස අතර ඉන්නැත්තෙ. ඒකයි කතා බහට එන් නැත්තෙ. ඊටපස්සෙ ඈත සෙනසුන් සේවනය කරනවා. ඊටපස්සෙ කියනවා ශ්‍රමණ භවත් ගෞතමයන් හරියට අර එක ඇහැක් අන්ධ වෙච්චි හරකෙක් පාරෙ අයිනෙන් අයිනෙන් ගිහිල්ලා අර අයිනකට වෙලා ඉන්නවා මොකුත් කර කියාගන්න බැරිව. ඒ වගේ ශ්‍රමණ භවත් ගෞතමයන් ඔය ඈතකට වෙලා ඉන්නෙ කිව්වා. ඊටපස්සෙ දැන් අපිට මුණගැහුනොත් එහෙම දැන් ඔහේලා ඔය මහලොකුවට කතා කරනවානෙ, අපිට මුණගැහුනොත් එහෙම ඔය ශ්‍රමණ භවත් ගෞතමයා අපි කතා කරන්නම් කිව්වා හරියට හිස් කළයක් දරණුවක් උඩ තියලා හෙලවෙන්න බැරිව තියෙනවා වගේ ඉන්න තැනින් හෙලවෙන්න බැරිවෙන්න අපි කතා කරන්නෙ කිව්වා. දැන් මේ බුදුරජාණන් වහන්සේට මේ තාපසයො කියන ඒවා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ උදුම්බරික පරිබ්‍රාජකරාමයේ නිග්‍රෝධ තාපසයා තුන්දාහක් පිරිස ඉදිරියේ සන්ධාන ගෘහපතියා සමඟ මේ කියන කතා සල්ලාපය දිව්‍ය ශ්‍රවණයෙන් ශ්‍රවණය කලා. දිව්‍ය ශ්‍රවණයෙන් ශ්‍රවණය කරලා බුදුරජාණන් වහන්සේ ගිජ්ජකූට පර්වතයෙන් අතුරුදහන් වෙලා සුමාගදහ පොකුණු තෙර මොණරුන්ගේ අභයභූමියේ මෝරනිවාපයේ යම් තැනකද එතෙන්ට වැඩියා. ඍද්ධියෙන් වැඩියා. වැඩලා ඉතින් එතකොට මේ ඇත්තො කතා බහ කර කර ඉන්න තැනට අර සුමාගදහ පොකුණ පේනවා. ඒ පොකුණ එහාපැත්තෙ ඉවුරෙ සක්මන් කරනවා බුදුරජාණන් වහන්සේ දැන් මේ ඇත්තන්ට පේන්න. ඊටපස්සෙ දැන් අර මහා ලොකුවට කතා කර කර හිටපු නිග්‍රෝධ පිරිවැජියා එකපාරම දැක්කා බුදුරජාණන් වහන්සේ. දැක්ක ගමන් කතාව නතර කලා. අද කාලෙ කට්ටියමයි. කතාව නතර කලා. කතාව නතර කරලා කිව්වා වහගනිල්ලා දැන් කට. අන්න භවත් ගෞතමයන් වහන්සේ සුමාගදහ පොකුණ ළඟ සක්මන් කරනවා. ඉතින් දැන් අපි ටිකක් නිහඬව ඉමු. අපි නිහඬව ඉන්නකොට ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මේ පැත්තට

එන්න ඕන කියලා හිතනවා. ඉතින් කමක් නෑ ආපුවාවෙ, සතුටු සාමීචියෙ කතා කරන්න පුලුවන්. සම්පූර්ණයෙන් කතාව අනිත් පැත්ත හැරුණා. ඇත්තටම භවත් පිරිවැජියෙනි, දැන් නිග්‍රෝධ තාපසයා කියනවා, බැරිවෙලාවත් ශ්‍රමණ භවත් ගෞතමයො මේ පැත්තට ආවොත් අපි දැන් මොකක්ද අහන්නෙ. ඊටපස්සෙ දැන් කට්ටිය කතා වුනා එහෙම නම් අපි අහමු ඔබවහන්සේ ශ්‍රාවකයො හික්මවන්නෙ මොනවාගේ ධර්ම දේශනාවක් කරලද. ඊළඟට මේ අය බඹසරට මුල් වූ මාර්ගය පිළිබඳව ප්‍රතිඥා දෙනවා නම් අපි මේ දහම් මාර්ගයේ හැසිරෙනවා කියලා ඒ දහම් මාර්ගය පුරුදු කරන ධර්මය මොකක්ද කියලා අපි ආවොත් දැන් අහමු, කියලා ඔන්න කලින්ම ප්‍රශ්නය හදාගත්තා. ඔය අතරතුර භාග්‍යවතුන් වහන්සේ හෙමිහිට සුමාගදා පොකුණු තීරය ළඟින් හෙමීට වැඩම කරලා නිග්‍රෝධ තාපසයා ඉන්න තැනට වැඩියා. ඊටපස්සෙ වඩිනකොට ස්වාගතං භන්තෙ, ස්වාගතං වඩින්න වඩින්න ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ වඩින්න, කොච්චර සතුටක් ද අපිට ඔබ වාගේ උත්තමයෙක් මේ පැත්තට වඩින එක. අනේ භාග්‍යවතුන් වහන්සේ ගොඩාක් කාලයෙක් මෙහෙ වැඩියෙ නෑනෙ. අනේ වැඩම කරන්න කියලා අසුනක් පැනෙව්වා. දැන් මුන් මීට කලින් මොකක්ද දැන් කිව්වෙ. අද කාලෙ වගේමයි. මේ බැන බැන ඉන්නවා. මේ නොයෙකුත් දෝෂාරෝපණ කරනවා. දැක්ක ගමන් අනේ කියලා. බොහෝ කාලෙකට පස්සෙ දැක්කේ අනේ මූණෙ සිරියාව කියනවා. දැන් බැන බැන හිටියෙ. ඒ සෙට් එකමයි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ආසනයේ වැඩ සිටියා. නිග්‍රෝධ තාපසයා මිටි ආසනයක් අසුන් ගත්තා. කවුරුවත් බුදුරජාණන් වහන්සේ ඉදිරියේ උස් ආසනයක ඉඳලා නෑ. ඒක බුදුරජාණන් වහන්සේගේ ආනුභාවය. සංසාරෙ පුරාවටම වැඩිහිට අයට ගෞරව කරපු, පිදිය යුත්තන් පුදපු ආනුභාවය, බුදු කෙනෙක් ළඟ කවුරුවත් උස් ආසනයක ඉන් නෑ. බුදුරජාණන් වහන්සේ ඇහුවා නිග්‍රෝධ මොකක්ද මං එන්න කලින් කතා වුනු කතාව. දැන් ඔන්න පටාස් ගාලා වචනෙ අනිත් පැත්ත දැම්මා නිග්‍රෝධ තාපසයා. කිව්වා ස්වාමීනී අපි කතා වුනේ ඔබවහන්සේ වැඩියොත් එහෙම ප්‍රශ්නයක් අහන්න ඕන කියලා. ඊට කලින් කතා නෑ දැන්. ඔබ වහන්සේ වැඩියොත් එහෙම ඔබවහන්සේ ශ්‍රාවකයන්ට මොන වාගේ ධර්මයක්ද දේශනා කරන්නේ කියලා ප්‍රශ්නයක් අහන්න තමයි ස්වාමීනී අපි මේ කතාව. පුදුම ලෝකයක්. මේ බුද්ධ කාලෙ වෙච්චි දේවල්. තාපසයො. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා නිග්‍රෝධ, අන්‍යාගමික වූ වෙනත් ආගමක් අදහන, වෙනත් දර්ශනයක් තියෙන ඔබට බුදු කෙනෙක් නිවන පිණිස

දහම් දේශනා කරන ධර්මය තේරුම් ගන්න අමාරුයි. එහෙම නෙවෙයි ඔබ අහන්න ඔබගේ තාපස කම ගැන. මේ ස්වාමීනී තපසින් පව් බැහැර කිරීම සම්පූර්ණ වන්නේ කෙසේ ඇති කල්හි ද, අසම්පූර්ණ වන්නේ කෙසේ ඇති කල්හිද. තාපස කම හරියන්නෙත් තාපස කම වරදින්නෙත් කොහොමද කියලා මගෙන් ප්‍රශ්නයක් අහන්න කිව්වා. එතකොටම හාහෝ ගාලා අර එකපාරම සද්දයක් ඇතිවුනා සභාවෙන්. තුන්දාහක්නෙ පිරිස. මොකක්ද සද්දෙ, මේක අච්චරියං වතභො, අද්බූතං වතභො, ආශ්චර්‍යයියි, අද්භූතයි. තමන්ගේ දහම ගැන කියන්න තියෙන එක පසෙක තියලා අපේ ආගම අපේ දර්ශනය හාත්පසින් ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ දහමට වැඩිය වෙනස් තාපසකමක්. එතකොට අපේ තාපසකම ගැන ප්‍රශ්න අහන්න කියලා පවරනවානෙ මේ වෙන කෙනෙක්. පුදුම සහගතයිනෙ. කොහොමද එහෙම කරන්නෙ කියලා. ඊටපස්සෙ ඔන්න ආයෙත් නිග්‍රෝධ තාපසතුමා ඔන්න ආයෙත් පිරිස නිශ්ශබ්ද කලා. නිශ්ශබ්ද කරලා බුදුරජාණන් වහන්සේනේ අහනවා එහෙනම් ස්වාමීනී අපිට කියලා දෙන්න මේ පව් දුරු කරන තපස් කම කරගෙන යන අපිට මේක සාරයක්, මේක යහපතක්, මේකෙ සම්පූර්ණත්වයක් කොහොමද දකින්නෙ, අසම්පූර්ණත්වයක් කොහොමද තියෙන්නෙ කියලා. තාපසකම හරියට කරන්නෙ කොහොමද, තාපසකම වරදින්නේ කොහොමද. නිග්‍රෝධ, මෙහිලා තපස් රකින තාපසයන් නිරුවත් වෙනවා. යහපත් ආචාරයන්ගෙන් මිදෙනවා. කෑම කාලා අත් සෝදන් නැතිව අත් ලෙවකනවා. එන්න කිව්වොත් එන්නෑ. හිටින්න කිව්වොත් ඉන්නෑ. ඊළඟට තමන් වෙනුවෙන්ම ගෙනල්ලා දුන්නොත් ඒක ගන් නෑ. ඊටපස්සෙ ආරාධනා කළොත් ඒ දානෙට යන්නෑ. ඊළඟට බත් සැළියෙ මුලින් දුන් කොටස ගන් නෑ. ඊටපස්සෙ යටින්ම දුන් කොටස ගන්නෙත් නෑ. එළිපැත්තෙ ඉඳලා දානෙ ගන්නෙත් නෑ. ඊටපස්සෙ ගෙදරට ඇතුල් වෙන දොරටුව ළඟ ඉඳලා දෙන දානෙ ගන්නෙත් නෑ. මුහුල් අතරෙ ඉඳලා දෙන දානෙ ගන්නෙත් නෑ. දෙදෙනෙකු අනුභව කරද්දි එකෙක් නැඟිට දෙන බත පිළිගන්නෙත් නෑ. ගැබිණිය දෙන බත ගන්නෙත් නෑ. කිරිපොවන්නිය දෙන බත ගන්නෙත් නෑ. පුරුෂයෙකු ළඟට ගිය ස්ත්‍රිය දෙන බත ගන්නෙත් නෑ. සමාදන් කොට පිඩු බත ගන්නෙත් නෑ. ළඟ ඉන්න බල්ලට නොදී දෙන බත ගන්නෙත් නෑ. මැස්සන් ඉන්න තැනකින් දානෙ බෙදුවොත් එතන ගන්නෙත් නෑ. මාළු ගන්නෙත් නෑ. මස් ගන්නෙත් නෑ. සුරා ගන්නෙත් නෑ. රා වර්ග බොන්නෙත් නෑ. සෝරවික බොන්නෙත් නෑ. එක් ගෙයකින් එක් බත් පිඩකින් යැපෙනවා. ගෙවල් දෙකකින් බත් පිඩු දෙකකින්, තුනකින්. එක දවසක් ආහාර අරන් ඊළඟට ආයෙ

දවස් දෙකකින් ගන්නෙ. දවස් තුනකින්, හත් දවසකින්, ආහාර ගන්නවා. මාසෙකට දවස් පහළොවකට සැරයක් ආහාර ගන්නවා. මේ විදියට වාර පිළිවෙලට ලැබෙන ආහාර ගන්නවා. ඊටපස්සෙ මේ විදියට තමයි කිව්වා තපස් රකින්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේගේ සර්වඥතා ඥාණය බලන්න. තාපසයො කරන දේවල්, දැන් බුදුරජාණන් වහන්සේට මේක කවුරුවත් පන්තියක් දාලා උගන්වලාද, තාපසයො මෙහෙමයි තපස්කම් කරන්නෙ කියලා. බුදුරජාණන් වහන්සේගේ තියෙන අවබෝධය. අමුකොළ වර්ග අනුභව කරනවා, ඊළඟට බොඩහම හෝ අනුභව කරනවා. උඟුරුහැල් අනුභව කරනවා. සංවතුර වල කසට හෝ අනුභව කරනවා. ලාටු දියසෙවෙල් අනුභව කරනවා. සහල් දංකුඩ, පුන්නක්කු, තණකොළ, ඊළඟට ගොම, ගස් වලින් වැටෙන ගෙඩි, වනමුල් පලා ආහාර කරනවා. ඔන්න තාපසයො ආහාරවලට ගත්ත ඒවා ඒ කාලෙ. දැන් අපිට අද කාලෙ උදේටත් දානෙ ටික දීලා, දවල්ටත් දානෙ ටික දීලා, ගිලන්පසත් දීලා ඔක්කෝම පහසුකම් සහිතව බණ ටිකක් අහපිය කිව්වට මිනිස්සු සූදානම් නෑනෙ බණ ටිකක් අහන්න. උපෝසථය සමාදන් වෙනිල්ලා, සිල් රැකපල්ලා කිව්වාට. මේ ඒ කාලෙ දැක්කද බුද්ධ ශාසනේ වැරදිච්ච තැන. තාපස කමකට වැටුනොත් කරන්න තියෙන දුෂ්කර ප්‍රතිපදාව. ඊටපස්සෙ හණවැරලි අඳිනවා. හණරෙදි අඳිනවා. මිනී එතූ වස්ත්‍ර අඳිනවා. රෙදිකඩමාළු අඳිනවා. සුඹුලු වස්ත්‍ර අඳිනවා. අඳුන් දිවිසම් අඳිනවා. කුර සහිත අඳුන් මුව සම අඳිනවා. කුසතණයෙන් ගෙතූ වස්ත්‍ර අඳිනවා. පට්ටා කෙඳි වලින් ගෙතූ වස්ත්‍ර අඳිනවා. නිහඬ වැරහැලි අඳිනවා. කෙස් වලින් කෙරූ කම්බිලි, අස්ලොම් වලින් කල කම්බිලි, බකමූණු පිහාටු වලින් කළ කම්බිලි දරනවා. ඔන්න තාපසයෝ ඒ කාලෙ ඇඳපු ඒවා. කෙස් රැවුල් උදුරා දමනවා. තල ඇට දෙකක් අරගෙන මෙහෙම තල් ඇට වලින්. එක එක ගෙස් ගහ උදුරලා තමයි ඒ කාලෙ තාපසයො හිස තට්ටෙ කරගන්නෙ. ඊටපස්සෙ කෙස් රැවුල් උදුරලා, ආසන ප්‍රතික්ෂේප කරලා ඇණ තබාගෙන ඉඳගෙන, උක්කුටයෙන් ඉඳගෙන, යනකොටත් උක්කුටියෙන් පැන පැන යන්නෙ. කටු යහනෙ සැතපිලා, කටු ගැසූ ලෑල්ලෙ සැතපිලා. සාමාන්‍ය ලෑලි වලත් සැතපිලා, බිමත් සැතපිලා, එක් ඇලයකින්ම නිදලා, දූවිලි බැඳී ගිය කුණු තට්ටු ඇති සිරුරින් ඉන්නවා. එළිමහනේ ඉන්නවා ආසන වල තැන් තැන් වල. අශුචි අනුභව කරන විකටභෝජනය කියන තමන්ගේම අශුචි තමන්ගේම මුත්‍රා තමන්ම කනවා. සිහිල් දිය නොවන ව්‍රතයේ යෙදෙන සීතල වතුර බොන් නෑ. ඊළඟට සවස් වරුව තුන්වෙනිකොට වරු තුනක් පව් සේදීමට දියට බහිනවා. නිග්‍රෝධ මොකද හිතන්නෙ. ඔන්න ඔය

වාගේ ඔය ටික ඔක්කෝම පිළිවෙලට කරනවා නම් ඔය තපස්කම් ඔක්කොම ටික පිළිවෙලට කරනවා නම් එයා ගැන මොකක්ද නිග්‍රෝධට ඔබට හිතෙන්නෙ. ස්වාමීනී ඔය විදියට තපස්කම කරනවා නම් හරියට හරිනෙ. ඔය විදියට තපස්කම කරනවා නම් තාපසකම ඉහළටම ගිහිල්ලා. එතනින් එහාට නම් දෙයක් නෑ කිව්වා. නෑ නිග්‍රෝධ, ඔය වගේ තපස් කරන අයගේ පවා උපක්ලේශ තියෙනවා. ස්වාමීනී මොකක්ද ඒ උපක්ළේශ? නිග්‍රෝධ තපස් රකින කෙනා ඔය විදියට තපස් රැකලා දැන් නම් හරි කියලා තාපසකමින් සතුටු වෙනවා. ඒක උපක්ලේශයක්. නිග්‍රෝධ ඒ තාපසකම කරන කෙනා ඒ තාපසකමින් අනුන් හෙලා දකිනවා, තමන් උසස් කරනවා. ඒක උපක්ලේශයක්. ඊළඟට තාපසකමින් මත් වෙනවා. ප්‍රමාදයට පත්වෙනවා. ඒක උපක්ලේශයක්. තාපසකමින් ලාභ සත්කාර කීර්තිප්‍රශංසා උපද්දවනවා. ඒකෙන් සතුටු වෙනවා. ඒක උපක්ලේශයක්. ඊටපස්සෙ ලාභ සත්කාර තමන්ට ලැබෙනකොට වැඳුම් පිදුම් මේ කෝ අනිත් අයට නෑනෙ මේවා කියලා තමන් හුවා දක්වනවා. අනිත් අය හෙලා දකිනවා, ඒවා උපක්ලේශ. නමුත් අර තපස්කම් ඔක්කොම කරනවා. ඊටපස්සෙ ලාභ සත්කාර, කීර්ති ප්‍රශංසා වලින් මත් වෙලා යනවා. ඊටපස්සෙ කියනවා කෑම බීම ආහාර දාන ලැබෙන්න ගත්තට පස්සෙ තාපසයො මේවා අපි කන්න කැමැතියි, මේවා කන්න අකැමැතියි කියලා ලැබෙන ආහාරය කොටස් දෙකකට වෙන් කරනවා, රුචි අරුචිකම් අනුව. ඒවා උපක්ලේශ කිව්වා. ඊටපස්සෙ කල්පනා කරනවා මට රාජ රාජ මහාමාත්‍යවරු පැහැදෙනවා නම් හොඳයි කියලා තපස්කම් කරනවා. ඒකත් උපක්ලේශයක් කිව්වා. ඊටපස්සෙ කල්පනා කරනවා, දැන් ඔන්න මෙයා හොඳට තපස් රකිනවා. තපස් රකින්නැති කෙනෙකුට අනිත් අය වඳිනවා පුදනකොට මෙයා කල්පනා කරනවා මං මෙච්චර හොඳට තපස්කම් පුරලා මට තමයි මේ අය වඳින්නෙ පුදන්නෙ නැත්තෙ. අර උන්නාන්සෙ, අරයා අහවල් තැන ඉඳලා එයාලා ග්‍රාමවාසීව ඉඳලා එයාලට වඳිනව පුදනකොට, වඳිනවා පුදනවා මෙහෙමත් එකක් කියලා මසුරු කරනවා ලාභ සත්කාර වලට. ඊටපස්සේ කල්පනා කරනවා මේ බලන්නකො අනිත් අය දල්ලෙන් පැලවෙන, පුරුකෙන් පැලවෙන, කඳින් පැලවෙන, මුලින් පැලවෙන දේවල් මේ හැමඑකක්ම එක එක අය කාලා දානවා මැෂිමකට අහුවුනා වගේ ඕන දෙයක් කනවා. අපිනම් එහෙම කරන් නෑ කියලා ඔන්න කල්පනා කරනවා, මේ ඔක්කෝම උපක්ලේශ. ඊටපස්සෙ දේශනා කරනවා මේ අය මිනිස්සුන්ට පේන තැන් වල තපස් කරනවා. අනිත් අය දැනගනිත්වා මම තපස් කරන කෙනෙක්. මේ ඔක්කොම උපක්ලේශ කිව්වා. ඊටපස්සෙ

මෙහෙමත් මම තපස් රකිනවා, මෙහෙමත් මම තපස් රකිනවා කියලා තමන්ගේ තාපසකම් අනිත් අයට කියනවා, අනිත් අයට පැහැදෙන්න. ඒවා ඔක්කොම උපක්ලේශ කිව්වා. ඊටපස්සෙ මේ විදියට ඊළඟට තවත් කාලයක් යනකොට මෙයාලා බොරු කියන්න ගන්නවා. මේවත් උපක්ලේශ කිව්වා. ඊළඟට මේ තාපසකම් කරන අයට බුදු කෙනෙක් හෝ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් හෝ දහම් දෙසනවා අහන්න ලැබෙනවා. එතකොට ඒවට දොස් කියනවා. බුදු කෙනෙක්ගේ හෝ බුදුරජාණන්වහන්සේගේ ශ්‍රාවකයෙක් දහම් දේශනා කරනකොට අනුමෝදන් වෙන් නැත්නම් ඒක උපක්ලේශයක් කිව්වා. එහෙම නම් ඇත්තටම අද තාපසයන්ටත් එහෙම නම් අද කාලෙ වුනත් යම්කිසි කෙනෙක් බුදු කෙනෙක්ගේ ශ්‍රී සද්ධර්මය දේශනා කරද්දි අනුමෝදන් වෙන්න ඕන. ඒවට දොස් කියනවා නම් ඒ ඔක්කෝම උපක්ලේශ වලින් යටවුනු අන්‍යාගමික තීර්ථකයො වගේ. ඊටපස්සෙ තියෙනවා මේ විදියට උපක්ලේශ ඔක්කෝම විස්තර කරලා කියනවා මේ මිනිස්සු තපස්කම් කලාට ක්‍රෝධ කරනවා, වෛර කරනවා, ගුණමකුකම් තියෙනවා, ඊර්ෂ්‍යා මසුරුකම්, කපටිකම්, එකටඑක කිරීම්, නැතිගුණ පෙන්වනවා, කුහකයි, ඒ වගේම අධික මාන්නයෙන් යුක්තයි, දැඩියි, පවිටු ආසාවෙන් යුක්තයි, පවිටු ආසාවෙන් වසඟයට ගියා, මිසදිටු ගත්තා. මිසදිටුව අන් අය තුළ පතුරුවනවා. දෘෂ්ටි ග්‍රහණයට පත්වෙලා තමන්ගේ දෘෂ්ටිය ලේසියෙන් අත් අරින් නෑ. කියනවා නිග්‍රෝධ මේවා ඔක්කොම උපක්ලේශ කියනවා. ඊටපස්සෙ මේ තපසින් උපක්ලේශ, මේ විදියට තපස් රැක්කොත් එහෙම ඒක උපක්ලේශ සහිතද, උපක්ලේශ රහිත ද? ස්වාමීනී, මේ තපසින් පව් දුරලීම වනාහි උපක්ලේශ සහිතයි, උපක්ලේශ රහිත නෙවෙයි. පව් දුරලනවා කියලා තපස්කම් කලාට උපක්ලේශ ඇතුලෙ වැඩෙන්නෙ. ඊටපස්සෙ කියනවා ස්වාමීනී, කොහොමද මේක පිරිසිදු කරගන්නෙ. ඊටපස්සෙ කියනවා එහෙමනම් නිග්‍රෝධ, මේ තපස්කම් කරලා දැන් මගේ තපස හරියි කියලා සතුටට පත්නොවී ඉන්න ඕන. ඒකෙන් මුසපත් නොවෙන්න ඕන. තමාව හුවාදක්වන්නැතිව ඉන්න ඕන. එතකාට පිරිසිදු වෙනවා තපස. ඒ වගේම එයා මුසපත් වෙන්නැතිව, ලාභ සත්කාර වලින් මුසපත් වෙන්නැතිව, ඊළඟට ලාභ සත්කාර ලබන අදහස් නැතිව, ඒකෙන් හෙලාදකින්නැතිව අනිත් අය, ඒ වගේම කීර්ති ප්‍රශංසාවෙන් ප්‍රමාදයට පත්වෙන් නැතිව, නැතිගුණ කියන්නැතිව තමන්ට ලැබෙන ආහාරය බෙදන්නැතිව මේක ප්‍රියයි අප්‍රියයි කියලා රජ රාජ රාජ මහමාත්‍යවරුන්ගෙන් ලාභ සත්කාර ගන්න අදහසින් තපස් රකින්නැතිව

ඊළඟට ප්‍රත්‍යය ලාභය ලැබෙන අනිත් අයගේ ඒවට ඊර්ෂ්‍යා කරන්නැතිව ඊළඟට දායක පවුල් වලට ඇලෙන් නැතිව, ඒවගේම මිනිස්සුන්ට පේන්න තපස් රකින්නෙ නැතිව, එකින් එක බුදුරජාණන් වහන්සේ විස්තර කරනවා. එවගේම මගේ තපස මෙහෙමයි, මගේ තපස මෙහෙමයි කියලා තමන්ගේ තපස අනිත් අයට පේන්න කියන්නැතිව ඊළඟට බොරු කියන්නෙ නැතිව, ඒ වගේම බුදු කෙනෙක් දහම් දේශනා කරද්දි, ශ්‍රාවකයෙක් දහම් දේශනා කරද්දි අනුමෝදන් වෙන්න ඕන කිව්වා. තමන් රකින තපස වෙනම එකක්, බුදු කෙනෙක් දහම් දෙසද්දි, ශ්‍රාවකයෙක් දහම් දෙසද්දි ඒක අනුමෝදන් වෙන්න ඕන කිව්වා. එතකොට දැන් අද කාලෙ බලන්න. අද කාලෙ මොකක්හරි තමන් බණ භාවනාවක්, යෝගයක්, මොකක්හරි කසිනයක් හරි මොකක්හරි වැඩුවොත් ඒක වඩන ගමන් ධර්මය කියන අය ඔය කට්ටිය ඉතින් බණ කිය කියා යන කට්ටියනෙ කියලා ඒකට ගරහනවා. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කලේ ඒ ගැරහීම, අන්‍යාගමික තීර්ථකයන්ගේ උපක්ලේශ සහිත තීර්ථක ස්වභාවයක් කියලා. එතකොට අපි කොච්චර බේරෙන්න ඕනද කියලා කල්පනා කරන්න. ඉතින් මේ තාපස ජීවිත ගැන කියන්නෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා තපස් රකින කෙනා ක්‍රෝධ කරන්න හොඳ නෑ, වෛර කරන්න හොඳ නෑ. ඊටපස්සෙ අනුන්ගෙ ගුණ මකාදාන්න හොඳනෑ, ඊර්ෂ්‍යාව මසුරුකම් කපටිකම් ගුණමකුකම් පව්ටු ආසා, මිසදිටු, ඊළඟට තමන්ගේ දෘෂ්ටියේ දැඩිව ග්‍රහණය වීගෙන ඉන්න ඒවා, ඒවා හොඳ නෑ. ඒවා දුරලනකොට තමයි පිරිසිදු තාපසකමක් ඇතිවෙන්නෙ. බුදුරජාණන් වහන්සේ අහනවා, නිග්‍රෝධ, ඒ ගැන කුමක්ද සිතන්නෙ, ඉදින් මෙසේ ඇති කල්හි තපසින් පව් දුරලීම සිද්ධ වෙනවාද නැත්නම් තපස අපිරිසිදු වෙනවාද? ස්වාමීනී ඔය විදියට කරනකොට නම් තපසින් පව් දුරුවෙනවාමයි, පිරිසිදු වෙනවාමයි, තාපසකම මුදුනට පත්වෙනවාමයි, සාරයට පැමිණෙනවාමයි, දැන් නම් හරි කිව්වා තාපසකම. නෑ නිග්‍රෝධ තාපසකමින් මෙපමණකින් හරියනවා, සාරයට පත්වෙනවා, නෑ, මේක හරියට තාපසකමේ පිටපොත්ත වගේ එකක් කිව්වා. ස්වාමීනී මේක තාපසකමේ පිටපොත්ත නම් කොහොමද මේ තාපසකමේ සාරයට යන්නෙ? නිග්‍රෝධ තපස් රකින කෙනා සිව් වැදෑරුම් සංවරයට චතුයාමසංවරාදී සිව් වැදෑරුම් සංවරයට පත්වෙනවා. මොකක්ද ඒ සිව්වැදෑරුම් සංවරය. තපස් රකින කෙනා සතුන් මරන් නෑ. අනුන් ලවා මරවන් නෑ. සතුන් මරන එකට අනුබල දෙන් නෑ. හොරකම් කරන් නෑ, කරවන් නෑ. අනුන්ගේ සොරකමකට අනුමත කරන් නෑ. බොරු කියන්නෑ, කියවන් නෑ, කියන එකට

අනුබල දෙන්නෑ. පුරුදු කරන ලද දොස් සහිත දේවල් වලට සෙත් පතන්නෙත් නෑ, සෙත් පතවන්නෙත් නෑ, අනුන් ලවා සෙත් පතවන්නෙත් නෑ. ඊටපස්සෙ මේ විදියට ඒවා අනුමත කරන්නෙත් නෑ. ඔහොම ආකාර හතරකින් සංවර වෙනවා. ඊටපස්සෙ යම්කලෙක තපස් රකින්නා සිව් වැදෑරුම් සංවරයෙන් සංවර වූයේ වේද, මේක තමයි ඔහුගේ තපස. ඉදිරියටත් දියුණු කරනවා. නැවත කැරකී ගිහි ජීවිතයට නොවැටෙනවා. මෙච්චර මට්ටමක්වත් තියෙනවා නම් තාපසකමින් ආයෙ ගිහි ජීවිතේට වැටෙන් නෑ. එයා ආරණ්‍යය, රුක් සෙවන, පර්වත, කඳු, ගිරිගුහා, සොහොන්, වනපෙත්, එළිමහන් පිදුරු ඔය වගේ තැනක කය ඍජු කරලා වාඩි වෙලා භාවනාවෙන් හිත පිරිසිදු කරනවා. කාමච්ඡන්ද, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්ච කුක්කුච්ච, විචිකිච්ඡා ආදී පංච නීවරණ වලින් හිත දියුණු කරනවා. උපක්ලේශවලින් හිත බැහැර කරලා බැහැර කරලා හොඳට මෛත්‍රිය පතුරුවනවා, ඒ තාපසයා. හොඳට මෛත්‍රිය පතුරුවනවා, කරුණාව පතුරුවනවා, මුදිතාව පතුරුවනවා, උපෙක්ෂාව පතුරුවනවා. මේ විදියට බණ භාවනා කරනවා නම් කොහොමද නිග්‍රෝධ ඒ තාපසකම ගැන හිතෙන්නෙ? ස්වාමීනී දැන් නම් උඩටම ඇවිල්ලා කිව්වා තාපසකම. ඔතනින් එහාට නම් තාපසකම් නෑ. දැන් මේ අයගේ තාපසකම ගැන බුදුරජාණන් වහන්සේ කියලා දෙන්නෙ, වෙන ආගමක අයගේ. නිග්‍රෝධ නෑ, තාපසකම ඔතනින් හරියට පත්වෙන් නෑ. එතකොට කියනවා ස්වාමීනී, මේකෙන්වත් එන්නෙ නැත්නම්, මේකෙන් තාපසකමේ පොත්තටවත් පැමිණෙන්නැත්නම් මොකක්ද තාපසකමේ හරය? ඊටපස්සෙ කියනවා නිග්‍රෝධ, තපස් රකින කෙනා සිව් සංවරයෙන් යුක්ත වෙලා, සිව් වැදෑරුම් සංවරයෙන් යුක්ත වෙලා, ඊළඟට ගිහි බවට පත්වෙන්නැතිව විවේක තැන් වල වාසය කරලා, පංච නීවරණ දුරු කරලා, මෛත්‍රී කරුණා මුදිතා උපෙක්ෂා කියන සිව්බ්‍රහ්ම විහරණ දියුණු පමුණු කරලා එයා මොකද කරන්නෙ, පෙර ජීවිත දකින නුවණ උපද්දවගන්නවා. එක ජීවිතයක්, දෙකක්, තුනක්, හතරක්, කල්ප ගණන්, සංවට්ඨ විවට්ඨ කල්ප, මං අහවල් තැන හිටියේ මෙහෙමයි මෙහෙමයි කිය කියා පෙර ජීවිත බලන නුවණ උපදනවා තාපසයෙක්. නිග්‍රෝධ මොකද හිතන්නෙ ඔය වාගේ ඥාණයක් කෙනෙකුට ලැබෙනවා නම්? ස්වාමීනී, දැන් නම් තාපස කම පරිපූර්ණයි කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාළා, නෑ පිටපොත්ත කිව්වා. සාරයට ආවෙ නෑ කිව්වා. ස්වාමීනී මොකක්ද එහෙනම් මේ සාරයට පැමිණෙනවා කියන්නෙ? මාව සාරයට පමුණුවන සේක්වා. මට තාපසකම ගැන කියලා දෙන සේක්වා. තපස් රකින කෙනා ඔය විදියට පඤ්ච නීවරණ වලින් හිත මේවා කරලා මෙත්තා,

කරුණා, මුදිතා, උපෙක්ෂා කියන බ්‍රහ්ම විහරණ හොඳට වඩලා එයා මොකද කරන්නෙ ඊළඟට පෙර ජීවිත දකින නුවණත් උපද්දවගෙන එයත් ඉක්මවා ගිහිල්ලා චුතූපපාත ඥාණය ලබනවා. මෙහෙන් සත්ත්වයෙක් උපදින හැටි, තවත් තැනක ගිහිල්ලා උපදින හැටි, චුතවෙන හැටි, ඒ ඔක්කොම දකිනවා දිව්‍යලෝක වල යන හැටි, අපායෙ යන හැටි, සිතින් කයෙන් වචනයෙන් පව් කරලා, ඊළඟට ආර්ය උපවාද කරලා, මිත්‍යා දෘෂ්ටික වෙලා, අකුසල් කරලා දුගතියට යන හැටි, සිතින් කයින් වචනයෙන් යහපත් දේ කරලා සම්මා දිට්ඨියට පත්වෙලා, සම්‍යදෘෂ්ටික කර්ම කරලා ආර්ය උපවාද නොකරලා සුගතියට යන හැටි, එයාට හොඳට සුගති දුගති වල උපදින දෙව්ලොව උපදින සත්ත්වයො පේනවා. එතකොට නිග්‍රෝධ මොකද හිතෙන්නෙ මේ වාගේ චුතූපපාත ඥාණයත් ලබාගත්තා නම්? දැන් ස්වාමීනී දැන් නම් සාරයට පත්වුනා. බුදුරජාණන් වහන්සේ වදාළා ඕක නම් හරි, ඔතනින් එහාට තාපසයන්ට හිත දියුණු කරන්න බෑ කිව්වා. මේ ලෝකෙ යම්තාක් තාපසයො ඉන්නවා ද, අසිත තාපසතුමානෙ අසිත තාපසතුමාට කල්ප හතළිහත් ආපස්සට බලන්න පුලුවන්නෙ. ඉස්සරහට කල්ප හතළිහක් බලන්න පුලුවන්. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා අසිත තාපසතුමා ආදී අය පවා ඕනම කෙනෙකුට හිත දියුණු කරන්න පුලුවන්නෙ තාපසකමින් චුතූපපාත ඥාණය දක්වා පමණයි. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, නිග්‍රෝධ නුඹ මගෙන් ප්‍රශ්නයක් ඇහුවා. බලන්න බුදු කෙනෙක්ගේ ප්‍රශ්න විසඳීම. නුඹ මගෙන් ප්‍රශ්නයක් ඇහුවා, භාග්‍යවතුන් වහන්සේ දහම් දේශනා කරන්නෙ කුමක් පිණිස ද, ශ්‍රාවකයන්ට කියලා. නිග්‍රෝධ ඔන්න ඒකට උත්තරය දැන් කියන්නම්. නිග්‍රෝධ ඔතනිනුත් එහා හිත දියුණු කරන හැටි තමයි බුදුරජාණන් වහන්සේ දහම් දේශනා කරන්නෙ. එතනිනුත් උත්තරීතර, ප්‍රණීතතර ඥාණය උපද්දවන හැටි, ආසවක්ඛය ඥාණය උපද්දවන හැටි. බලන්න බුදුරජාණන් වහන්සේගෙන් අහපු ප්‍රශ්නෙට බුදුරජාණන් වහන්සේ උත්තර දුන්න තැන. මේ විදියට කියනකොට අර පරිබ්‍රාජකවරු කෑගහන්න ගත්තා. අපි ආචාර්‍යවරයා සහිතව නැසුනා. අපි ආචාර්‍යවරයා සහිතව වැනසුනා. අපිට අපි දන්නෙවත් නෑ ඔය වාගේ ඒවා තාපසකමේ තියෙනවා කියලා. ඊළඟට අපේ තාපසකම් වල ඉක්මවා ගිය දෙයක් භාග්‍යවතුන් වහන්සේ දේශනා කරලා තියෙන්නෙ, දන්නෙවත් නෑ අපිට වෙච්ච වින්නැහිය. අපේ තාපසකමට නේද මේ පහරවැදුනේ කියලා සද්දයක් ඇතිවුනා. ඊටපස්සෙ මෙහෙම වෙනකොට සන්ධාන ගෘහපතියා කල්පනා කලා දැන් අන්‍ය තීර්ථක පරිබ්‍රාජකයො ටික

ඔක්කොම ටික දැන් බුදුරජාණන් වහන්සේ කියන දේ තමයි අහන්නෙ. ඔක්කොම දැන් කන් යොමු කරගෙන ඉන්නවා බුදුරජාණන් වහන්සේගේ පැත්තට. දැන් මේ නිග්‍රෝධ තාපසයා භාග්‍යවතුන් වහන්සේ වඩින්න කලින් මෙතන ලොකු කතාවක් දැම්මානෙ දැන්. එතකොට සන්ධාන ගෘහපතියා කල්පනා කලා දැන් මං මේක අදින්න ඕන කියලා සන්ධාන ගෘහපතියා කියනවා ස්වාමීනී, භාග්‍යවතුන් වහන්ස මෙහෙම කතාවක් තියෙනවා. ඒ තමයි නිග්‍රෝධ දැන් තාපසයාට කතා කරනවා, නිග්‍රෝධ තාපසයෙනි, දැන් ඔබ කිව්වා බුදුරජාණන් වහන්සේ මෙතෙන්ට වඩින්න කලින් ඔය භාග්‍යවත් ශ්‍රමණ ගෞතමයන් එක්ක කව්ද කතා කරන්නෙ. ශ්‍රමණ භවත් ගෞතමයන්ට පිරිසක් මැද ගිහිල්ලා කතා කරන්න තේරෙනවාද, ඒ කතා කරන්න බැරි නිසා නේද අර කැලවල් වල ගිහිල්ලා ඉන්නෙ, උන්වහන්සේ කතාවක් පටන් ගත්තොත් නැගිටිනකොට හිතට ගන්න දේකුත් නෑ, ඒ කතා කරපු තැන් ඔක්කොම ඉවරයි. ඇස් අන්ධ වෙච්චි හරකෙක් අයිනෙන් අයිනෙන් ගිහිල්ලා පැත්තකට වෙලා ඉන්නවා වගේ කැලේට වෙලා ඉන්නවා ශ්‍රමණ භවත් ගෞතමයො, මං ළඟට ආවොත් එහෙම අපි කියලා දෙනවා හොඳට වතුර නැති කළයක් දරණුවක් උඩ තියලා හෙල්ලෙන්න නැතිව කළය තියනවා වගේ අපි එයාට හෙල්ලෙන්න බැරිවෙන්න කතා කරන්නේ කියලා ලොකු කතාවක් දැන් බුදුරජාණන් වහන්සේ වඩින්න කලින් නිග්‍රෝධ ඔබ කිව්වා නේද? ඊටපස්සෙ නිග්‍රෝධ තාපසයා මොකුත් දන්නෑ වගේ බිම බලාගත්තා. මොකුත් නෑ දැන් කිසිම සද්දයක් නෑ, මූණ අකුලාගෙන දැන් බිමට හරවාගෙන ඉන්නවා. භාග්‍යවතුන් වහන්සේ මෙයා දැකලා කියනවා ඇ නිග්‍රෝධ ඇත්තටම එහෙම එකක් කිව්වද, නිග්‍රෝධ එහෙම එකක් කිව්වද? ඊටපස්සෙ නිග්‍රෝධ ඔළුව යාන්තම් ඉස්සුවා. ස්වාමීනී, බලන්නකො මට එහෙම එකක් කියවුනානෙ කිව්වා. ඊටපස්සෙ කියනවා නිග්‍රෝධ නුඹ මොකක්ද හිතන්නෙ, නුඹලාගේ තාපසයන්ගේ මහළු අය ඉන්නවානෙ, නුඹ තාපසකම් ඉගෙන ගත්ත අය, ඒ වගේ අය නුඹලට කිව්වෙ කොහොමද, බුදුවරු වනාහි පිරිස් එක්ක කතාවේ යෙදී යෙදී දෙතිස් කතාවේ ඉන්න පිරිසක් විදියටද, බුදුවරු ගැන ඔබ අහලා තියෙන්නෙ. එහෙම නැත්නම් මම වගේ වනයේ හුදකලාවේ ඉන්න අය ගැනද කියලා ඇහුවා. ස්වාමීනී, බුදුවරු ගැන අපි අහලා තියෙන්නෙ වනයේ හුදෙකලා වෙලා ඉන්න අය ගැන. ඔබ අහලා තියෙන්නෙ කොහෙමද අනාගතේ බුදුවරු පහළ වෙනවා නම් ඒ බුදුවරු මා වාගේ හුදෙකලා වනයේ සිටින අය නෙවෙයිද? එහෙමයි ස්වාමීනී. ඊටපස්සෙ කියනවා අපි එහෙම තමයි අහලා තියෙන්නෙ. ඉතින් කියනවා නිග්‍රෝධ,

නුවණැති මහළු වූ ඔබට අදහසක් ඇතිවුන් නැද්ද ඊටපස්සෙ කියනවා, ඔබ දැන් මහළුයිනෙ නිග්‍රෝධ. ශිෂ්‍යයො ඉන්නවා තුන්දාහක්. බොහෝ කාලයක් තපස් රකින, යම්කිසි කල්පනාවක් තියෙනවා නම් හිතුන් නැද්ද, බුද්ධො සො භගවා බොධාය ධම්මං දෙසෙති, බුදු කෙනෙක් චතුරාර්ය සත්‍යය අවබෝධ කරලා අනිත් අයට ධර්මය දේශනා කරනවා කියලා සිතිවිල්ලක්වත් ආවෙ නැද්ද ඇහුවා. ඊටපස්සෙ දන්තො සො භගවා දමතාය ධම්මං දෙසෙති, බුදුරජාණන් වහන්සේ දමනය වෙලා අන් අයට දමනය වීම පිණිසයි දහම් දෙසන්නෙ. සන්තො සො භගවා සමතාය ධම්මං දෙසෙති, තමන් ශාන්ත වෙලා අන් අයට ශාන්ත වීමටයි දහම් දේශනා කරන්නෙ. ඊළඟට තින්නො සො භගවා තරණාය ධම්මං දෙසෙති, සසරින් එතෙරට වැඩලා සංසාරෙන් අනිත් අයටත් එතෙර වෙන්නයි දහම් දේශනා කරන්නෙ. ඊළඟට නිබ්බුතො සො භගවා නිබ්බාණාය ධම්මං දෙසෙති. තමන් නිවිලා අනිත් අයට නිවෙන්නයි දහම් දේශනා කරන්නෙ කියලා වයසට ගිහිල්ලත් ඔච්චර කාලයක් ගිහිල්ලත් බුදුවරු ගැන සිතිවිල්ලක් ඇතිවුන්නැද්ද කියලා ඇහුවා. ඊටපස්සෙ කියනවා ස්වාමීනී මට සමාවෙන්න, මම බාලයෙක් වගේ, අන්ධයෙක් වගේ දෝෂයෙන් යට කරගෙන ගිහිල්ලා මට මගේ කට මේ හරියන්නැතිව මෙහෙම වචනයක් ගියානෙ භාග්‍යවතුන් වහන්ස. ඊටපස්සෙ කියනවා බාලයෙක් වගේ, අන්ධයෙක් වගේ, මෝඩයෙක් වගේ, අදක්ෂයෙක් වගේ උඹ වරදින් යට කරගෙන ගිහිල්ලා මෙහෙම වචනයක් කියවුනා. ඒ නිසා දැන් ආයෙ ඉතින් සංවරයට පත්වෙනවා නම් ඇත්තටම වරදින් නැගී හිටින්න කැමැති නම් අපි ඒකට සමාව දෙනවා කිව්වා. ඊටපස්සෙ නිග්‍රෝධ මේ බුද්ධ ශාසනේ මෙහෙම එකක් කිව්වා. එතුවිඤ්ඤො පුරුසො අස්සතො අමායාමි, සටකපට මායම් නැති කෙලින් ඉන්න නුවණැති පුරුෂයෙක් මං ළඟට ආවොත් මං එයාට අනුශාසනා කරනවා මේ බුද්ධ ශාසනයේ. ඔහු හරියට ඒ දේ කලොත් අවුරුදු හතක් ඇතුලත, සම්පූර්ණයෙන්ම නිවන් මාර්ගය සම්පූර්ණ කරනවා කිව්වා. ඒත් ඕන් නෑ අවුරුදු හතක් යන්නෑ, සටකපට මායම් නැති නුවණැති ඍජු පුරුෂයෙක් මං ළඟට ආවෙත් අවුරුදු හයක් ඇති, ඒත් ඕන නෑ, අවුරුදු පහක් ඇති. අවුරුදු හතරක් ඇති, අවුරුදු තුනක් ඇති, අවුරුදු දෙකක් ඇති, අවුරුද්දක් ඇති, ඒ වගේම මාස හතක් ඇති, මාස හයක් ඇති, මාස හතරක් ඇති, පහක් ඇති, හතරක් ඇති, තුනක් ඇති, දෙකක් ඇති, මාසයක් ඇති, සටකපට මායම් නැති ඍජු ගතිගුණ තියෙන කෙනෙක් මං ළඟට පැමිණෙනවා නම් මං අනුශාසනා කරනවා එයාට ආයෙ මාසයක් ඕන නෑ, දවස් පහළොවෙන් එයා මේ නිවන්මාර්ගය සම්පූර්ණ කරනවා. ඒත් ඕන නෑ,

නුවණැති සෘජු ගතිගුණ තියෙන කෙනෙක් ඉන්නවා නම් ආවොත් දවස් හතෙන් මේ මාර්ගය සම්පූර්ණ කරනවා කියලා. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කලා නිග්‍රෝධ නුඹට හිතෙන්න පුලුවන් මේ ශ්‍රමණ භවත් ගෞතමයො මෙච්චර බණ කියන්නෙ ඔහේව මගේ ගෝලයෙක් කරගන්න කියලා හිතලා. එහෙම හිතන්න එපා, ඔයා ආචාර්යවරයෙක් විදියටම ඉන්න කිව්වා. ඔහේට හිතෙන්න පුලුවන් ශ්‍රමණ භවත් ගෞතමයො මෙච්චර බණ කියන්නෙ අපේ දෘෂ්ටිය අයින් කරලා ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ අදහස දාන්න කියලා. අනේ මට එහෙම එකක් නෑ කිව්වා, ඔහේගේ අදහසේම ඔහේ ඉන්න කිව්වා. ශ්‍රමණ භවත් ගෞතමයෝ අපිව තාපසකමින් බැහැර කරන්නයි මේ හදන්නේ කියලා හිතෙන්න පුලුවන්. එහෙම නෑ ඔහේ තාපසකමින් ඉන්න කියලා කිව්වා. හිතෙන්න පුලුවන් කිව්වා ආචාර්යවරයා සහිතව අපි යමක් අකුසල් කියලා හිතාගෙන ඉන්නවා නම් ඒවා තුළ අපිව පිහිටුවන්නයි මේ ශ්‍රමණ භවත් ගෞතමයො හිතන්නෙ කියලා. එහෙම නෑ ඔයාලා හිතන අදහස් වල ඔයාලා ඉන්න කිව්වා. කුසල් ගැන ඔයාලා හිතන විදියට හිතන්න කිව්වා. බුදුරජාණන් වහන්සේ දේශනාකලා, මෙසේ නිග්‍රෝධයෙනි, අතවැසියකු කරගනු කැමැතිව මම මෙසේ නොකියමි. තීර්ථක මතවාදයෙන් ඉවත් කරනු කැමැතිව මම මෙසේ නොකියමි. තීර්ථක ජීවිකාවෙන් ඉවත් කරනු කැමැතිව මෙසේ නොකියමි. ආචර්යවරයා සහිතව ඔහුගේ අකුසල් සංඛ්‍යාවට අයත් යම් අකුසල් දහම් ඇත් ද, ඒවා තුළ පිහිටවනු කැමැතිව මෙසේ නොකියමි. ආචාර්යවරයා සහිතව ඔබගේ කුසල් සංඛ්‍යාවට අයත් යම් කුසල් ඇත් ද, ඒවාගෙන් තොර කරනු කැමැතිව මෙසේ නොකියමි. නිග්‍රෝධයෙනි පුනර්භවය සකසා දෙන පීඩා සහිත දුක් විපාක සහිත මතු මතුත් ඉපදීම්, දිරීම්, මැරීම් ලබාදෙන කිළුටු සහිත ප්‍රහීණ නොවූ අකුසල ධර්මයෝ තිබෙත්මය. මම ඒ අකුසල් දහම් ප්‍රහාණය කරන්නයි දහම් දෙසන්නෙ. අකුසල් ප්‍රහාණය කරලා කුසල් උපද්දවන්නයි බුදු කෙනෙක් දහම් දෙසන්නෙ. අනිත් අය තමන්ගේ ශිෂ්‍යයො කරගැනීමට නොවෙයි. අනිත් අයගේ ආගම් මතවාද ප්‍රහාණය කරන්නට නෙවෙයි. ඉතින් කියනවා ප්‍රඥාවෙන් සම්පූර්ණ වී, විපුලත්වයෙන් මෙලොවදීම තමන්ගේ විශිෂ්ට නුවණින් ඒ නිර්වාණය සාක්ෂාත් කරන්නයි ධර්මය දේශනා කරන්නෙ. මේ විදියට ධර්මය බුදුරජාණන් වහන්සේ දහම් දේශනා කරනකොට අර නිග්‍රෝධ පරිබ්‍රාජකයා සහිත තුන්දාහක් පිරිස ඔළුව යටට හරවගෙන හිටියානෙ. කිසිකෙනෙක් දැන් කතාවක් නෑ. ඊටපස්සෙ කියනවා ඒ සියලු දෙනාම මාරයා විසින් සිත යටකරගත්ත අය වගේ කියනවා. බුදුරජාණන් වහන්සේ කල්පනා කරනවා,

භාග්‍යවතුන් වහන්සේට මෙතන ඉන්න එක්කෙනෙකුටවත් හිතෙන්නෑ කියනවා, දවස් හතක් කියන්නෙ ඒ හැටි කජ්ජක්ද, ඔය ශ්‍රමණ භවත් ගෞතමයො මෙච්චර කියන එකේ ඔය දහම දවස් හතක්වත් මම පුරුදු කරන්න ඇත්නම් කියලා එක්කෙනෙකුටත් හිතුන් නෑ කියනවා. හේතුව සියලු දෙනාගෙම හිත මාරයා වැහුවා කියනවා. කොහොමද, බුදුරජාණන් වහන්සේ දහම් දෙසද්දි තුන් දාහකගෙම හිත වැහුවා. පුදුම සහගතයි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඒ පිරිසටම ඔය වගේ සංවේගය ඇති කරලා පිරිසටම පේන්න ආකාසෙට පැන නැංගා. ආකාසෙට පැන නැඟලා එයින් ගිජ්ජකූට පර්වතයට වැඩියා. සන්ධාන ගෘහපතියා ගියා. ඔය විදියට බලන්න පුදුම සහගත දේවල්. බුදු කෙනෙක් දහම් දෙසද්දිත් ඒ වාගේ වුනා නම්, ඒ කියන්නෙ දැන් මේ ඇත්තන්ට මාර්ග ඵල ලබන්නට අභ්‍යන්තරයේ ඇත්තටම පුණ්‍ය ධර්මය සකස් වෙලා තිබ්බා නම් මේක වෙන් නෑ. ඒ දෝෂය තමයි ඒ මාර බලවේගය ඇල්ලුවෙ. ඒ නිසා ඔබත් හරියට කුසල් දහම්, පින් දහම් රැස් කරගෙන නිවන පිණිස හිත සම්පූර්ණයෙන් හදලා තිබ්බෙ නැත්නම් බුදු කෙනෙක් මුණ ගැහුනත් හිත වැහෙනවා. අද කාලෙ ගැන කවර කතාද. අද කාලෙ මෙච්චර හොඳට ධර්මය දේශනා කරද්දිනුත් මිනිස්සුන්ට මේක හරියට ඇහෙනවාද කියන එකයි අපිට තියෙන ඊළඟ ප්‍රශ්නෙ. හරියට මේ බණ ටික ඇහෙනවාද කියලා. හිතේ තියෙන ඒවා මිනිස්සුන්ට ඇහෙන්නෙ. හේතුව මෙන්න මේක නිසා, බුදු කෙනෙක් ඉදිරියේ තුන්දාහක් පිරිසගේ හිත වැහිලා ගියා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඍද්ධි ප්‍රාතිහාර්ය දක්වලා එතනින් අතුරුදහන් වුනා. සම්මා සම්බුදුරජාණන් වහන්සේ මේ ලෝකයට මුහුණදෙන හැටි. බුදුරජාණන් වහන්සේ නිකෙලෙස් සිතින් මේ ලෝකය ජයගන්න හැටි. පරවාද මතනය කරන හැටි. බුදුරජාණන් වහන්සේලාගේ තේජස ලෝකෙට ප්‍රකට කරන හැටි. ඒ නිසා දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මේ තුන් ලෝකෙට අග්‍ර වූ මහේශාක්‍ය වූ අමා මහ නිවන ලබලා දුන්නු බුදුරජාණන් වහන්සේ මම සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය මම සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝ රත්නය සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් තිසරණය අපගේ ජීවිතයට එකම පිළිසරණ වේවා. එකම රැකවරණය වේවා, ආරක්ෂාව වේවා, දිවි තිබෙන තුරු, නිවන් දකිනතුරු උතුම් ගෞතම සසුනේ පිහිට පිළිසරණ පිණිස මේ සරණ අපිව සුවපත් කරත්වා කියලා අපි සිහි කරමු.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ එංගලන්තයේ පදිංචි පින්වත් මහේෂා පුණ්‍යවර්ධන මහත්මිය, සතිර

පීරිස් මහත්මයා, ඒ වගේම කයිල් පුතණුවන් සහ ඇඩිල් දියණියන් විසින්. මේ පින් බලයෙන් මේ පවුලේ සියලු දෙනාට සියලු යහපත රැකවරණය ආරක්ෂාව සැලසේවා කියලා එකහිතින් අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම සියලු දෙවියන්ට මේ පින් අනුමෝදන් වී ලක්දෙරණත්, බුදු සසුනත් මේ සියලු දෙනාත් ආරක්ෂා කරත්වා. පරම පූජනීය, කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් බලයෙන් නිදුක්, නිරෝගී, දීර්ඝායුෂ ලැබේවා. කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන්ට මේ පින් අනුමෝදන් වේවා. ගරුතර මහාසඟරුවනට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට, නිවන පිණිස මේ පින් හේතු වේවා. ඒ වගේම ඒ එංගලන්තයේ පදිංචි මහේෂා පුණ්‍යවර්ධන, සතිර පීරිස් මහත්මයා, කයිල් පුතණුවන්, ඇඩිල් දියණියන් ඇතුලු ඒ පවුලේ සියලු දෙනාටත්, ඒ වගේම ඔබ අප කාටත්, ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ සියලු දෙනාට ඒ වගේම ධර්මය ශ්‍රවණය කරන සියලු දෙනාට, මව් දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන්ට අපි කාටත් ගෞතම බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු සරණේ පිහිටෙන් සියලු රැකවරණය, ආරක්ෂාව වේවා. අමා නිවනින් සැනසෙත්වා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=mdXq9fOonOc&list=PLaIyA_suCnHx15brN1U__Cvrd IW8GMhnA&index=67

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන නිරන්තරයෙන් ශ්‍රවණය කරන්නට ලැබීම ඔබගේ ජීවිතයට විශාල භාග්‍යයක්. හේතුව බුදුරජාණන් වහන්සේ කෙනෙකුගේ ජීවිතයේ ස්වභාවය, සම්මා සම්බුදු කෙනෙකුගේ සම්බුද්ධ කෘත්‍යය, ඊළඟට බුදුරජාණන් වහන්සේ නමක් සරණ යන්න ඕන ආකාරය ඒ සියල්ල මේ දේශනාවලින් අපිට ඉගෙන ගන්න පුලුවන්. දැන් බොහෝ කාලයක ඉඳලා අපි මේ ධර්ම දේශනා ශ්‍රවණය කරන්නෙ. බුදුරජාණන් වහන්සේ සත්ත්වයන් දමනය කලා, දමනයට පැමිණෙව්වා, සසරින් එතෙර කෙරෙව්වා. ඉතින් අපි ඒවා අහලා සිත පහදවා ගන්නවා. ඒ පහන් සිත අපිට බුද්ධ ශාසනයේ පිහිට ලබලා දෙනවා. ඉතින් අද දවසේත් මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නේ ඉතාලියේ භූස්තෝ නගරයේ පදිංචි සදීශ් කෘශ් මහත්මයා ඒ වගේම රවිනි ඒකනායක මහත්මිය අනයා දියණිය ඇරන් පුතණුවන්, කෝකිලා සහ ගර්ටි මැණියන් යන පින්වතුන් පිරිස එකතු වෙලා අද ධර්ම දායකත්වය දරනවා සියලු දෙනාට ධර්මාවබෝධයටත් සියලු යහපත පිණිසත් මේ අප්‍රමාණ පින හේතු වාසනා වේවා කියන අදහස අපි මුලින්ම සිහිපත් කරනවා. ඉතින් පින්වත්නි අපේ බුදුරජාණන් වහන්සේ දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ මහත් වූ ආනුභාවයට පත්වෙලා වැඩ සිටියේ. මේ ලෝක ධාතුවේ පමණක් නෙවෙයි දස දහසක් ලෝක ධාතු වලත්, අනේක ලෝක ධාතුවලත් සහශ්‍රී ද්විසහශ්‍රී මහසහශ්‍රී ආදී ලෝක ධාතුවල ද අනන්ත සක්වලද බුදුරජාණන් වහන්සේ බුද්ධානුභාවය පැතිරෙව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ ගතකරපු ජීවිතය තුළ පන්සාලිස් වසරක් තුළ ඒ බුදුරජාණන් වහන්සේගේ ජීවිතයට නොයෙක් ආකාරයේ අත්දැකීම් වලට මුහුණ දෙන්න සිද්ධවුනා. මේ කෙලෙස් සහිත ලෝකයා සමඟ වාසය කරද්දි. ඉතින් ඒ අතරතුර තමා ළඟම පැවිදි වෙලා බුදුරජාණන් වහන්සේටම අභියෝග කළ අය හිටියා. සුනක්ඛත්ත, සරභ ඔය වගේ චරිත ගැන අපි කතා කලා. ඊළඟට දෙවියන් අතර බ්‍රහ්මයන් අතර භාග්‍යවතුන් වහන්සේ දහම් දේශනා කරද්දි ඒ ලෝකවලත් බුදුරජාණන් වහන්සේට අභියෝග ඇති කලා. නමුත් ඒ අභියෝග සියල්ල අවසන් වුනේ බුදුරජාණන් වහන්සේ දෙසූ ධර්මය ඒ ලෝකවල සත්ත්වයන් අවබෝධ කරලා ශ්‍රාවකත්වයට පැමිණිලා. දැන් බ්‍රහ්මයන් බුදුරජාණන් වහන්සේගේ උපස්ථානයට පැමිණෙනවා. බුදුරජාණන් වහන්සේට

උපස්ථාන කරනවා කියන්නෙ වන්දනා කරලා සිත පහදවාගෙන ගරු කරලා යන එකට තමයි උපස්ථාන කියන්නෙ. දැන් ඔබට මතක ඇති අපි අනුත්තරපුරිස ධම්ම සාරථී, ඒ වගේම සත්ථා දේවමනුස්සානං බුදුගුණ ගැන විස්තර කරනකොට ඔය කරුණු ගොඩක් විස්තර කලා. දවසක් බුදුරජාණන් වහන්සේ බැහැදකින්න බ්‍රහ්මයන් දෙදෙනෙක් පැමිණෙනවා. පැමිණෙනකොට භාග්‍යවතුන් වහන්සේ භාවනාවෙන් වැඩ සිටින්නෙ. ඊටපස්සෙ ඒ බ්‍රහ්මයො දෙන්නා කල්පනා කරනවා දැන් භාග්‍යවතුන් වහන්සේ සමාධියෙන් වැඩ සිටිනවා. සමාධියෙන් නැගිට්ටට පස්සෙ අපි වන්දනා කරමු. අපි ඒ අතරතුර මේ භාග්‍යවතුන් වහන්සේ කෙරෙහි සිත පහදවාගත්තෙ නැති එක බ්‍රහ්ම විමානෙකට අපි යමු. කියලා ඒ බ්‍රහ්මයො දෙන්නා භාග්‍යවතුන් වහන්සේ ළඟින් චුත වෙලා අර භාග්‍යවතුන් වහන්සේ බැහැදකින්න එන්නැති බ්‍රහ්මයාගේ විමානයේ පහළ වුනා. පහළ වුනාම ඒ බ්‍රහ්මයා සතුටු වෙනවා, පැමිණෙන්න, පැමිණෙන්න මේ බ්‍රහ්මවරු පැමිණීච්ච එක බොහොම අගෙයි කියලා. ඊටපස්සෙ අහනවා ඔබලා මේ වෙලාවේ කොහේ ගිහිල්ලද මේ මාගේ විමානෙට පැමිණියෙ. කියනවා ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට උපස්ථානයට අපි දෙන්නා ගියා කියලා. කියනවා අයියෝ ඔහෙලට මොකක්ද මේ වෙලා තියෙන්නෙ. මහා බ්‍රහ්මයො වෙලා ඉපදිලා ආනුභාවසම්පන්න ඇතිව ඉපදිලා මේ නීච වූ මනුස්ස ලෝකෙ මේ මනුස්සයෙකුට මේ බඹයක් පමණ උස තියෙන ශරීරයක් තියෙන මනුස්සයන්ට උපස්ථාන කරන්න යනවද, ඔහේලාගෙ ඔලුව අවුල් වෙලාද කියලා ඇහුවා. ඊටපස්සෙ ඒ බ්‍රහ්මයා කියනවා එහෙම කියන්න එපා, සම්මා සම්බුදුරජාණන් වහන්සේලා ලෝකයේ කලාතුරකින් පහළ වෙන්නෙ. ඒ උත්තමයන් වහන්සේලාට අපි උපස්ථාන කරන්න ඕන කියලා, වඳින්න පුදන්න ඕන කියලා කිව්වා. ඊටපස්සෙ අර බ්‍රහ්මයා කියනවා, මම නම් යන්නෙ නෑ කිව්වා. ඔය මනුස්ස ලෝකෙ මිනිස්සුන්ට උපස්ථාන කරන්න අපි යන්නෙ නෑ. මම මහා ආනුභාවසම්පන්න කෙනෙක් කිව්වා. ඒයි බ්‍රහ්මවරුනි මං නුඹලාට මාගේ ආනුභාවය පෙන්වන්නම් කියලා ඒ ක්ෂණයෙන්ම තමා වගේ බ්‍රහ්මයෝ දාහක් මැව්වා. ඊටපස්සෙ අර පැමිණි බ්‍රහ්මයා මොකද කලේ, එහෙනම් චුට්ටක් ඉන්න ඔබත් මා දෙස බලන්න කියලා එයා අර බුදුරජාණන් වහන්සේ ළඟ ඉඳලා වැඩිය බ්‍රහ්මයා තමන්ගේ බ්‍රහ්ම ශරීර වගේ දෙදාහක් මැව්වා. මවලා කිව්වා මේ ඔහේගේ ඍද්ධියයි, මගේ ඍද්ධියයි මොකක්ද, තුන් ලෝකෙටම අපේ ප්‍රාතිහාර්ය පාන අපේ ඍද්ධිය මේ සම්මා සම්බුදු කෙනෙක් ඉදිරියේ වැලි කැටයක් වගේ. බුදු කෙනෙක් මහමෙරක් වගේ.

ඒ නිසා ලොව්තුරා සම්මා සම්බුදුවරු කලාතුරකින් ලෝකෙට පහළ වෙන්නෙ කිව්වා. ඊටපස්සෙ ඔන්න ඒ බ්‍රහ්මයා සංවේගයට පත් කරලා ඒ බ්‍රහ්මවරු දෙන්නා අතුරුදහන් වුනා, පස්සෙ කාලෙක අර බ්‍රහ්මයත් උපස්ථානයට ගියා. ඊළඟට තව තැනක තියෙනවා එක බ්‍රහ්මයෙක් කල්පනා කලා මේ බ්‍රහ්ම ලෝකයට නම් ලෝකයේ කිසි කෙනෙකුට නැවැත එන්න බෑ, මේක තමයි නිවන කියලා. ඊටපස්සේ ඒ මොහොතෙම බුදුරජාණන් වහන්සේ මනුස්ස ලෝකෙන් අතුරුදහන් වෙලා ඒ බ්‍රහ්මරාජයාගේ සිත දැකලා දැන් බලන්න, බ්‍රහ්ම ලෝකෙ ඉඳලා මනුස්ස ලෝකෙට මහා විශාල ගල් පර්වතයක් අතෑරියොත් එහෙම ඒක ඍජුව පල්ලෙහාට වැටෙනවා නම් මාස හතරක් යනවා කියනවා ඒක පොළොවට වැටෙන්න. නාගසේන මහරහතන් වහන්සේ වදාළේ. එච්චර දුරක්, යොදුන් හතළිස් දෙදාහක්, කියන්නෙ මනුස්ස ලෝකෙ ඉඳලා චාතුම්මහාරාජිකයට යොදුන් හතළිස් දෙදාහක් තියෙනවා, තාවතිංසයට අසූහාරදාක් තියෙනවා, ඒ වගේ හතළිස් දෙදාහෙන් ඒ කියන්නෙ කිලෝමීටර් හාරලක්ෂ විසිදෙදහෙන් විසිදෙදහට තමයි ඒ ලෝක ධාතු වෙන් වෙවී යන්නෙ. එතකොට ඉහළම තියෙන බ්‍රහ්ම ලෝක වලට කොච්චර දුරක් ද කියලා හිතන්න. එච්චර දුරක බ්‍රහ්මයෙක් සිතන සිතුවිල්ල දෙව්රම් වෙහෙරේ ඉන්න බුදුරජාණන් වහන්සේ දකිනවානෙ. බුදුරජාණන් වහන්සේගේ සිත් දැකීමේ ආනුභාවය. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ මොහොතේ බ්‍රහ්මයාට ඉහළින් ආකාශයේ වැඩ හිටියා. වැඩ ඉන්නකොට අර බ්‍රහ්මයාට පුදුම හිතුනා. ඒ බ්‍රහ්මයා හිතාගෙන හිටියේ කිසිම ලෝකයකින් ඒ බ්‍රහ්මයා ඉන්න ලෝකයට කිසිම කෙනෙකුට එන්න බෑ කියලා. ඊටපස්සෙ අපේ මුගලන් මහරහතන් වහන්සේ බැලුවා භාග්‍යවතුන් වහන්සේ මේ වෙලාවේ කොහෙද වැඩ ඉන්නෙ කියලා, බ්‍රහ්ම ලෝකෙ. එතකොට බුදුරජාණන් වහන්සේට පහළින් අර බ්‍රහ්මයාට ඉහළින් වම් පසට වෙන්න මුගලන් මහරහතන් වහන්සේ පහළ වුනා. අර බ්‍රහ්මයාට තව පුදුමයි. ඊටපස්සෙ මහාකස්සප මහරහතන් වහන්සේ බැලුවා කෝ අපේ භාග්‍යවතුන් වහන්සේ, දෙව් ලොව වැඩ ඉන්නවා. ඊටපස්සෙ මහා කාශ්‍යප මහරහතන් වහන්සේ මනුස්ස ලෝකෙන් අතුරුදහන් වෙලා බ්‍රහ්ම ලෝකෙ බුදුරජාණන් වහන්සේට පහළින් බ්‍රහ්මයාට ඉහළින් දකුණු පසින් වැඩ හිටියා. අනුරුද්ධ මහරහතන් වහන්සේ, රට්ඨපාල මහරහතන් වහන්සේ ආදී රහතන් වහන්සේලා ඒ බ්‍රහ්ම ලෝකෙ පහළ වුනා. ඊටපස්සෙ මුගලන් මහරහතන් වහන්සේ අහනවා ඒයි බ්‍රහ්මය, නුඹ හිතුවා නේද මේ ලෝකෙට කාටවත් එන්න බෑ කියලා. භාග්‍යවතුන් වහන්සේ පිරිවරාගෙන ඉන්න මේ

සඟරුවන දකිනකොට ඔබගේ ඒ මිත්‍යාදෘෂ්ටිය තවම තියෙනවාද කියලා ඇහුවා. අනේ සංඝ සෘෂීන් වහන්සේ පිරිවරාගත්ත මේ මහරහතන් වහන්සේලා දකිනකොට මං මගේ දෘෂ්ටිය තවත් කොයි විදියකට පවත්වන්නද. මගේ දෘෂ්ටිය වැරදියි කියලා කිව්වා. ඒ දර්ශනයෙන් දෘෂ්ටි පහ කලා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ ඇතුලු සඟරුවන අතුරුදහන් වුනා. ඒ බ්‍රහ්මයා තවත් බ්‍රහ්මයෙකුට කිව්වා එම්බා බ්‍රහ්මය, නුඹ මොග්ගල්ලාන භික්ෂුව මුණගැහෙන්, ගිහිල්ලා අහපං ඔය වාගේ බ්‍රහ්ම ලෝකෙට එන්න පුලුවන් තවත් අය ඉන්නවාද කියලා. ඊටපස්සෙ ඒ බ්‍රහ්මයා මුගලන් මහරහතන් වහන්සේ දෙව්රම් වෙහෙරේ පහළ වුනේ. ඒ පහළ වෙච්චි තැනම අර බ්‍රහ්මයාත් ආපහු පහළ වුනා. අර දූත බ්‍රහ්මයා. ඊටපස්සෙ ඇහුවා මොග්ගල්ලානයන් වහන්ස මට දැනගන්න ඕන වෙන්නෙ මේ වගේ බ්‍රහ්ම ලෝකෙට යන්න පුලුවන්, බ්‍රහ්මයොත් එක්ක කතා කරන්න පුලුවන් තවත් භික්ෂූන් මේ දෙව්රම් වෙහෙරේ ඉන්නවාද. කිව්වා මේ දෙව්රම්වෙහෙරේ දැනටම පන්සීයකට අධික පිරිසක් ඉන්නවා කිව්වා ඒසා සෘද්ධිමත්. ඉතින් අනිත් භික්ෂූන් ගැන කවර කතාද කිව්වා මේ විසිරී පැතිරී සිටින. ආශ්චර්යයි, අද්භූතයි කියලා ඒ බ්‍රහ්මයා එතනින් අතුරුදහන් වෙලා අර බ්‍රහ්මයාට ගිහිල්ලා විස්තර කියනවා. මේ වගේ ඒ බ්‍රහ්ම ලෝක වල තියෙන, ඊළඟට තමයි දැන් අපි ගත්තොත් ජයමංගල ගාථා වල සත්‍ය ක්‍රියා කරනවානෙ, බුදුරජාණන් වහන්සේ බක නම් බ්‍රහ්මයා මාන්නයෙන් දැපෙද්දි දමනය කලා කියලා. මම හිතුවා ඒ විස්තර නැවත සිහි කලොත් හොඳයි කියලා. අපේ තථාගත බුදුරජාණන් වහන්සේ මේ ලෝකයේ දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ මේ එක එක අභියෝග වලට මුහුණ දෙන ආකාරය, නිකෙලෙස් හද මඩලින්. අපි සරණ ගිය අපේ බුදුරජාණන් වහන්සේ ලොව ජයගත්ත හැටි ඔබට ඉගෙන ගන්න ලැබෙනවා. මේ දේශනාව මජ්ඣිම නිකායේ පළවෙනි පොත් වහන්සේගේ තියෙන බ්‍රහ්ම නිමන්තනික සූත්‍රය. බුදුරජාණන් වහන්සේ ඒ දවස් වල වැඩ හිටියේ සැවැත් නුවර ජේතවනාරාමයේ. අනේපිඬු සිටුතුමාගේ ආරාමයේ. සංඝයාට බුදුරජාණන් වහන්සේ මේ අතීත විස්තරය, සිදුවූ විස්තරය වදාළා. පින්වත් මහණෙනි, එක දවසක් මම ඔක්කට්ඨා නගරය අසල සුභග කියන වනාන්තරයේ විශාල සල් රුකක් සෙවණේ වැඩ සිටියා. ඒ වෙලාවේ බක නම් බ්‍රහ්මයාට මේ විදියේ පාපී දෘෂ්ටියක් ඇතිවෙලා තිබෙනවා මා දුටුවා. ඒ කියන්නෙ මොකක්ද ඒ බක බ්‍රහ්මයාට ඇතිවුනු පාපී දෘෂ්ටිය, බ්‍රහ්ම ලෝකය නිත්‍යයි, ස්ථිරයි. බ්‍රහ්ම ලෝකය සදාකාලිකයි, පරිපූර්ණ එකක්, චුත වෙන්නෙ නෑ, බඹ ලොව ඒ තැන තවත් කෙනෙකුට ඉපදෙන්න බෑ. දිරන්නෑ චුත වෙන්නෑ,

යළි ඉපදීමක් නෑ, මේ බඹලොවින් තොර වෙනත් දුකින් නිදහස් වීමක් නෑ. මේ ලෝකයේ සත්ත්වයෝ අමා මහා නිවන ලබනවා කියලා ලබනවා නම් ඒ තමයි මේ බ්‍රහ්ම ලෝකෙ ඉපදෙන එක කියලා බක නම් බ්‍රහ්මයා පාපී දෘෂ්ටියකට ආවා. ඉතින් පින්වත් මහණෙනි, මම ඔය සිතිවිල්ල දැකලා දික් කල අතක් හකුළුවන වේගයෙන්, හකුළුවන ලද අතක් දික් කරන වේගයෙන් - ඇයි ඒ උපමාවක් ඒ විදියට වදාළේ, අර බ්‍රහ්ම ලෝකෙ ඉඳලා මනුස්ස ලෝකෙට තියෙන දුර දැන් ගුවන් ගමනින් යද්දි රටකින් රටකට යන්න කොච්චර වෙලා යනවද කියලා බලන්නකො, ගුවනින් යද්දි. එතකොට ඒ ඍද්ධියේ ආනුභාවය විස්තර කරන්න තමයි ඒ උපමාව දේශනා කරන්නෙ. දික් කරපු අතක් හකුළුවන වේගයෙන්, හකුළුවපු අතක් දික් කරන වේගයෙන් කියලා. ඊටපස්සෙ බ්‍රහ්මලෝකෙ පහළ වෙනකොට බක නම් මහා බ්‍රහ්මයා දැක්කා අප්පේ ශ්‍රමණයන් වහන්සේ නමක්. ඒයිමානිස, නිදුකාණන් වහන්ස වඩින්න, ඔබේ පැමිණීම ඉතාමත් යහපත්. දුක් නැති මුණිදුනි, බොහෝ කාලයකට පස්සෙ නෙව මෙහෙ වැඩියේ. ඉතින් දුක් නැති මුණිදුනි, මේ බ්‍රහ්ම ලෝකෙ තමයි නිත්‍ය, ස්ථිර, සාස්වත, පරිපූර්ණ, චුතිය ජරාව මරණය නැති නිවන කියලා කියන්නෙ මේ බ්‍රහ්ම ලෝකෙට. ඒයි ශ්‍රමණයන් වහන්ස මේ නිවන නැමැති බ්‍රහ්ම ලෝකෙට එන්න. එහෙම කියනකොට බක බ්‍රහ්මයා භාග්‍යවතුන් වහන්සේ වදාළා ඒයි පින්වත් බ්‍රහ්මය, නුඹ ඉන්නෙ අවිද්‍යාව තුළ. ඒ නිසා තමයි අනිත්‍ය වෙලා ඉඳගෙන නිත්‍යයි කියනවා, අස්ථිර වෙලා ඉඳගෙන ස්ථිරයි කියනවා. සදාකාලික නොවී ඉඳගෙන සදාකාලිකයි කියනවා. අපරිපූර්ණව ඉඳගෙන පරිපූර්ණයි කියනවා. චුතවන ස්වභාවයෙන් ඉඳගෙන චුත නොවෙනවා කියලා කියනවා. යම් තැනක ඉපදීම දිරීම මියයෑම චුතවීම යළි ඉපදීම තියෙනවා නම් අන්න එතෙන්ටම ඉපදීම ජාති ජරා මරණ නැති නිවන කියලා මේ බ්‍රහ්ම ලෝකෙටම කියනවා අනිත්‍ය වූ අස්ථිර වූ උපත චුතිය නැවත ඉපදීම ඇති ලෝකෙකට ඔයිට වඩා දුකින් නිදහස් වීමක් නෑ කියලා කියනවා මේ අවිද්‍යාව නිසා කියලා තේරුම් ගන්න කියලා කිව්වා. එහෙම කියනකොට පාපී මාරයා බලන්න මනුස්ස ලෝකෙ මිනිස්සු අතර සැරිසරන දෙවියන් අතර සැරිසරන කෙනා බ්‍රහ්ම ලෝකෙටත් ගියා. එයා ගිහිල්ලා එක්තරා බ්‍රහ්මයෙකුට, බ්‍රහ්ම පාරිසජ්ජයේ පිරිසෙ කෙනෙකුට ආවේශ වුනා. ආවේශ වෙලා කියනවා ඒයි භික්ෂුව, මේ මහා බ්‍රහ්මයාට නින්දා කරන්න එපා. මොහුට නින්දා කරන්න එපා. ඔය බ්‍රහ්මයා තමයි මහාබ්‍රහ්මයා. සියල්ල මැඩලන කෙනා. කාටවත් මැඩලන්න බැරි කෙනා. සියල්ල දකිනා කෙනා. සියලු දෙනා වසඟයට ගත් කෙනා. ලෝකයේ අධිපතියා,

කතෲවරයා, නිර්මාතෲවරයා, ලෝකයේ ශ්‍රේෂ්ටයා, ලෝක ප්‍රජාව බිහි කළ කෙනා, ලෝකය වසඟ කල කෙනා, ඉපදෙන සත්ත්වයන්ගේ දෙව් පියාණන් ඔය බ්‍රහ්මයා. ඒයි භික්ෂුව මේ ලෝකයේ නුඹට කලින් ශ්‍රමණ බ්‍රාහ්මණවරු හිටියා. උන්නැහේලත් පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන මේ සතර මහා ධාතූන්ට ගැරහුවා. පිළිකුල් කලා, ඉපදෙන සත්ත්වයන්ට ගැරහුවා, පිළිකුල් කලා. ඊටපස්සෙ දෙවියන්ට ගැරහුවා, පිළිකුල් කලා, ලෝකාධිපති දෙවියන්ට ගැරහුවා, පිළිකුල් කලා, බ්‍රහ්මයාට ගැරහුවා බ්‍රහ්මයා පිළිකුල් කලා. ඔය වාගේ බණ කිය කියා ගිහිල්ලා ඒ ඇත්තො මැරුණට පස්සෙ දන්නවද කොහෙද ඉපදුනේ කියලා, අපායෙ. අපායෙ කිව්වා ඉපදුනේ. කලින් හිටියා ශ්‍රමණ බ්‍රාහ්මණවරු පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන සතර මහා ධාතූන්ට ප්‍රශංසා කර කර, ඊළඟට දෙවියන්ට ලෝකාධිපති අයට බ්‍රහ්මයන්ට ප්‍රශංසා කර කර ඉඳලා ඒ අය මැරුණට පස්සෙ සුගතියේ ගියෙ. ඒයි භික්ෂුව, ඒ නිසා නුඹට මං මේ කියන්නෙ, මායිස, දුක් නැති මුණිඳුනි, මේ බ්‍රහ්මයා යම් දෙයක් කිව්වා නේද, අන්න ඒක ඔහේ කරන්න ඕන. මේ බ්‍රහ්මයා කියන දේ කරන්න ඕන. ඔහේගේ බණ මෙයාට කියන්නැතිව. ඉක්මවා යන්න හදන්නෙපා මේ බ්‍රහ්මයාව. ශ්‍රියා කාන්තාව ගෙදරට පැමිණෙද්දි පොල්ලකින් ගහලා පන්නගන්නවා වගේ මේ බ්‍රහ්මයා කියන වචන අහක දාන්න එපා. ඊටපස්සෙ කියනවා, මිනිහෙක් භයානක ප්‍රපාතයකට වැටෙද්දි එල්ලෙන්න ලණුවක් තියෙනකොට ඒ ලණුව අල්ලන්නෑ වගේ නිකං මේ එක එක දේවල් කියලා මේ බ්‍රහ්මයා කියන අවවාද නොපිළිගෙන ඉන්න එපා. ඊටපස්සෙ ලොකු සම්පතක් නුඹට ලැබෙන්න යන්නෙ. ඒ තමයි මේ බ්‍රහ්මයා කියන ටික අහගෙන ඉඳලා ඒ විදියට කරන්න කියලා කියනවා. මේ බ්‍රහ්මයාගේ වචන ඉක්මවා යන්න එපා. ඒයි භික්ෂුව, නුඹට පේන්නැද්ද, මේ බ්‍රහ්මයා කියන දේ අහලා මේ ඉන්න බ්‍රහ්මයො ටික බොහොම සන්තෝෂෙන් ඉන්න හැටි බලන්න කිව්වා. පින්වත් මහණෙනි, පාපී මාරයා ඒ බ්‍රහ්ම පිරිස පෙන්න පෙන්නා ඔන්න ඔහොම මට කිව්වා. පින්වත් මහණෙනි, මම එතකොට එහෙම කියාපු මාරයාට මේ විදියට කිව්වා. ඒ තමයි මාරය, මං උඹ දන්නවා. උඹ හිතන්න එපා උඹ මේ ඇඟකට ඇවිල්ලා ඉන්නවා අඳුරගත්තෙ නෑ කියලා. ඊටපස්සෙ කියනවා උඹගේ වසගයට උඹ මේ ඔක්කොම ගත්තා නේද. ඒ නිසා උඹට සිතිවිල්ලක් ඇතිවුනා මේ ඉන්න ඔක්කොම ටික දැන් මගේ යටතේ ඉන්නෙ කියලා. ඒත් උඹ දැනගනිං, මේ ඔක්කොම උඹගේ යටතේ ඉන්න පුලුවන්. ඒ වුනාට මම උඹගෙ යටතෙ නෙවෙයි ඉන්නෙ. මා ඉන්නෙ උඹට අහුවෙලා නෙවෙයි. මා නුඹගේ වසගයට පත්වෙලා

නෑ. එහෙම කිව්වාම පින්වත් මහණෙනි, බ්‍රහ්මයා මට මෙහෙම කිව්වා. දැන් ඊටපස්සෙ දැන් ඔය අතර, ආවේශයකින් ඔය කතා කරන අතරෙ බක බ්‍රහ්මයා වෙනම ඉන්නවානෙ. බක බ්‍රහ්මයා කියනවා දුක් රහිත මුණිඳුනි, මම මේ නිත්‍ය දෙයක්මයි නිත්‍යයි කියලා කිව්වෙ. ස්ථිර දෙයක්මයි ස්ථිරයි කියලා කිව්වෙ. සදාකාලික දෙයක්මයි සදාකාලිකයි කිව්වෙ. පරිපූර්ණ දෙයක්මයි පරිපූර්ණයි කියලා කිව්වෙ. චුත නොවන දේ, ඊළඟට ඉපදීමට අයිති නොවන, යළි ඉපදීමට අයිති, මරණ වලට අයිති නොවන දෙයක් ගැනමයි මං ඔය කිව්වෙ. ඊටපස්සෙ මෙතන තමයි දුකෙන් නිදහස් වෙන තැන කියලා මං මේ දැනගෙන කියන්නෙ. ඉතින් පින්වත් භික්ෂුව ඔබට කලිනුත් ලෝකයේ ශ්‍රමණ බ්‍රාහ්මණවරු හිටියා, ඔබගේ ආයුෂ සම්පූර්ණයෙන් ගත්තොත් ආන්න ඒ වගේ කාලයක් ඔවුන් තපස් රැක්කා. ඒ ඍෂිවරු මේ බඹලොවට වඩා දුකින් නිදහස් වුන තවත් තැනක් තියෙනවා කියලා හිතලවත් නෑ. ඒ නිසා ඒ අය ඒවා දන්නවා. ඒ කියන්නෙ තේරුම් ගන්න, බුදුරජාණන් වහන්සේ පහළ වෙන්න කලින් ලෝකෙ බණ භාවනා කරපු විමුක්තියක් හොයපු අයගේ එකම එක නැවතුම්පොල, උත්තරීතර නැවතුම්පොළ බ්‍රහ්ම ලෝකෙ. ඒකයි මේ බක බ්‍රහ්මයා කියන්නෙ, නුඹගේ සම්පූර්ණ ආයුෂ කාලය, ඒ කියන්නෙ අවුරුදු සීය, එකසිය විස්ස එක දිගට සමාධියේ ඉඳලා ඒ අයට පවා, දැන් භාග්‍යවතුන් වහන්සේ අවුරුදු තිස් පහෙන් පස්සෙනෙ සම්බුදු ජීවිතේ තියෙන්නෙ. බක බ්‍රහ්මයා කියනවා මුළු ආයුෂ කාලෙම සමාධියෙන්, විමුක්තිය හොයපු අය අවසානෙ නැවතුනේ බ්‍රහ්ම ලෝකෙ. ඒ කියන්නෙ මෙතන තමයි නිවන. ඊටපස්සෙ ඒ අය දන්නවා කිව්වා මේ ස්වභාවය. ඉතින් පින්වත් භික්ෂුව ඔබට මෙච්චරයි මට කියන්න තියෙන්නෙ. මේක තමයි නිවන. නිකං අමාරුවෙ වැටෙන්න එපා. බ්‍රහ්ම ලෝකෙටත් එහා නිවනක් තියෙනවා කියලා අමාරුවෙ වැටෙන්න හදන්න එපා. දැන් බක බ්‍රහ්මයා කියනවා. දැන් මේ බුදුරජාණන් වහන්සේට කියාහිටින්නෙ. ඕවා හොයන්න ගියොත් කලන්තෙ හැදිලා පීඩාවට පත්වෙනවා. පින්වත් භික්ෂුව, ඔබ පඨවි ධාතුවේ බැසගෙන හිටියොත් මා ළඟ පඨවි ධාතුවේ බැසගන්න. ආපෝ, තේජෝ, වායෝ ධාතුවල බැස ගන්න. ඊළඟට දෙවියන් බ්‍රහ්මයන් ගැන හිත බැසගන්න. එතකොට ඔබට මං ගාවට එන්න පුලුවන්. නිකං මේවා ප්‍රතික්ෂේප කරලා තියෙන නිවන නැතිකරගන්න එපා. පින්වත් බ්‍රහ්මය මං ඒක දන්නවා. යම් විදියකින් පඨවි ධාතුවේ කෙනෙක් බැසගෙන හිටියොත් ඒක ඔබගේ අරමුණට පත්වෙන දෙයක්. එතකොට ඒ පඨවි ධාතුවේ බැසගෙන ඉන්න කෙනාට මහා බ්‍රහ්මයාට පුලුවන් එයාට අභියෝග කරන්න.

එයාව එයාගේ වසඟයට ගන්න පුලුවන්. ආපෝ, තේජෝ, වායෝ ධාතුවලට, ඊළඟට උපන් සත්ත්වයා, දෙවියන්, ලෝකාධිපති දෙවියන්, බ්‍රහ්මයා ආදී ඒ අය තුළ හිත බැසගෙන තිබ්බොත් බ්‍රහ්මයන්ට පුලුවන් ඒ අයට බලපෑම් කරන්න. ඉතින් බ්‍රහ්මය මං හොඳට ඕක දන්නවා. නමුත් බුදුවරු ඔය සියල්ල ඉක්මවා ගියා. පින්වත් බ්‍රහ්මය නුඹේ උපතත් මම දන්නවා. ආනුභාවයත් දන්නවා. බ්‍රහ්මයෙක් විදියට ඔබ ඍද්ධිමත්ව ඉන්නෙ කොහොමද කියලත් දන්නවා. බක බ්‍රහ්මයා මහානුභාවසම්පන්නයි, මහේශාක්‍යයි කියලා මම දන්නවා ඔහේගේ සියලු විස්තර ටික දන්නවා කිව්වා. ඉතින් බක බ්‍රහ්මයා කියනවා, නිදුක් මුණිඳුනි, කොහොමද දන්නෙ මගේ උපත. ඒ කියන්නෙ බක බ්‍රහ්මයාටවත් ඒ බ්‍රහ්මයා ඉපදිච්ච තැන, ඉපදිච්ච කාලය හොයන්න බෑ. එච්චර දීර්ඝායුෂ. බක බ්‍රහ්මයාට ආයුෂ කල්ප පන්සීයයි කියනවා. මේ මනුස්ස ලෝකෙ අවුරුදු පනහ හැටට ඉපදිලා ඒ අවුරුදු පනහ හැටෙන් මුල් කාලෙ මතක නැනෙ. තමන් ඉපදුනාද කියලාවත් මතකයක් නැනෙ. වැඩිය ඕන නෑ කාලයක් යනකොට ඉපදුනේ දෙමව්පියන්ගෙන් කියලා අමතක වෙනවානෙ. ඕපපාතිකව පහළ වුනා වාගෙනෙ ඉන්නෙ. හොඳට කල්පනා කරන්න මේ අවුරුදු පනහ හැටට, කල්ප පන්සීයක් ඉන්නවා කියන්නෙ. එතකොට ඒ කල්ප පන්සීයත් එක්ක එයාට උපන් තැනවත්, කිසි දෙයක් ඉපදීමක් මතක නෑ බක බ්‍රහ්මයාට. ඊටපස්සෙ අහනවා කොහොමද මගේ ආනුභාවය, මං කරපු දේවල් කොහොමද දන්නෙ කියලා. බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ වදාරනවා, දස දිසා එළිය කරමින් සඳ හිරු දෙදෙනා හැසිරෙන්නේ යම් තාක් ද, ඒ තාක් සහශ්‍රී ලෝකධාතුවත්. මේ හිරුගෙන් සඳුගෙන් ආලෝකමත් වන ලෝක ධාතු දාහක් තියෙනවා නම් ඒ ලෝක ධාතු දාහම ඔබට වසඟයේ පවත්වන්න පුලුවන්. බලන්න බ්‍රහ්මයන්ගේ ආනුභාවය. ඒ දස දහසක් ලෝක ධාතුවේ සිටින උස් පහත් සත්ත්වයන් ගැන, ඒ සත්ත්වයන්ගේ රාග විරාගී සිත්වල තැන, ඒ වගේම ඒ අය චුත වෙන හැටි, ගිහිල්ලා උපදින හැටි, ඒවා ඔබට පේනවා. ඉතින් බ්‍රහ්මය ඔය විදියට මම ඔබගේ උපත දන්නවා. කියනවා මීට කලින් අභවල් බ්‍රහ්ම ලෝකෙ හිටියෙ. ඒ ලෝකෙන් තමයි මේ බ්‍රහ්ම ලෝකයට ආවෙ. ඊටපස්සේ කියනවා ඔබ මහානුභාවසම්පන්නයි. ඔබ සසරේ කරපු පින් දන්නවා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සංසාරයේ ඔබ තාපසයෙක් වෙලා ඉද්දින් කාන්තාරයේ වතුර නැතිව හිටපු මිනිස්සුන්ට ඍද්ධියෙන් ගඟක් කාන්තාරයට හරවලා වතුර දීලා තියෙනවා. ගඟක කෙලිසෙල්ලමේ යෙදුනු මිනිස්සුන්ව බය කරන්න ආපු නාගයෙක් ඔබ තාපසයෙක්ව සිටියදී ගුරුළු

වෙසක් මවාගෙන ඒ නාගයා බැහැර කරලා ඒ මිනිස්සුන්ට අභයදානය දීලා තියෙනවා. ඊටපස්සෙ කියනවා ඔබ මීට කලින් ජීවිතයක හිමාලයේ තපස් රකිද්දි ඔබගේ අතවැසියෙක් විදියට මම ඉපදිලා තියෙනවා. එතකොට ඔබ මට ගොඩාක් ආදරය කරලා මාව නොදැක ඉන්නට බැරිවුනා. කාලයක් ඔබ මිනිස්සුන්ගේ ලුණුඇඹුල් හොයන්න ගිහිල්ලා රජතුමා ඔබට පැහැදිලා ඔබ උයනේ නතර කරගත්තා. මම කැලේ හිටියේ, අතවැසියා. ගෝලයා ශිෂ්‍යයා විදියට. ඊටපස්සෙ ඔබට මාව නොදැක ඉන්න බැරි තැන ඔබ රෝගී වෙලා බෙහෙතෙන් සුව කරන්න බැරිව ඒ රජවරු ආපහු වනයට ගෙනත් ඇරලැව්වා. එතකොට මා දුටු ගමන් ඔබගේ රෝගය සන්සිඳුනා, ආහාර ගත්තා. එච්චර මට ආදරෙන් ඉඳලා තියෙනවා කිව්වා. මට හිතුනෙ මේ සිද්ධියත් එක්ක බුදුරජාණන් වහන්සේ එදා ඒ සසරේ එකට මුණගැහුනු සිද්ධියත් එක්ක තමයි මේ බේරගන්නෙ. බක බ්‍රහ්මයා. මේ දේශනාව අවසානයෙදී බ්‍රහ්ම ලෝකයේ බොහෝ බ්‍රහ්මයො මාර්ග ඵල ලබලා තියෙනවා. බලන්න හරි පුදුමයි සංසාරෙ. දැන් බුදුරජාණන් වහන්සේට අභියෝග කරනවා. කාලයක් සසරෙ නොදැක ඉන්න බෑ. එතකොට කල්ප පන්සීයකට කලින් එකක් මේ කියන්නෙ. කල්ප පන්සීයකට කලින් සිද්ධියක් කියන්නෙ. ඊටපස්සෙ කියනවා මේ විදියට ඔක්කොම විස්තර ටික කියලා කියනවා ඔබගේ ආනුභාවය ඒවා සැලසුන විදිය ඔහොමයි. ඒවගේම මේ ලෝකෙට ඉහළින් තියෙනවා බ්‍රහ්ම ලෝක ආභස්සර කියලා. ඒ ආභස්සර ලෝකයේ කෙනෙක් චුත වෙන හැටි උපදින හැටි ඔබට බලන්න බැහැ. ආභස්සර ලෝකෙ ඔහේට පේන් නෑ, ඊළඟට තියෙනවා නමුත් ඊට එහා ඒ ඔබ මුලා වුනාට ඒ ලෝක ගැන ඔබට පේන්නැති වුනාට ඒක මට පේනවා. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා බක බ්‍රහ්මයාට, බ්‍රහ්මය – ඉතින් ඒ කාරණාවෙනුත් තේරුම් ගන්න කිව්වා ඔහේගේ ඥාණයයි, මගේ ඥාණයයි කොහොමටත් සමාන කරන්න බෑ කියලා. ඔහේට මං කල්පනා කරන විදියට, දකින විදියට කිට්ටු වෙන්නවත් බෑ කිව්වා. සමාන කරන්නවත් බැරි නම්, පහත් බවක් ගැන කවර කතාද බුදු කෙනෙක්ගේ ඥාණය ගැන. බ්‍රහ්මය සුභකිණ්ණ කියලා තවත් ලෝකයක් තියෙනවා, ඔහේට ඒක පේන්නෙත් නෑ. එහෙන් චුතවෙන හැටි උපදිනා හැටි පේන්නෙත් නෑ. ඊටපස්සෙ ඒ නිසා ඔහේගේ ඥාණය මගේ ඥාණයට සමාන කරන්න හදන්න එපා කිව්වා. සමාන වෙන්නෙත් නැත්නම් පහත් වීම ගැන කවර කතාද. පින්වත් බ්‍රහ්මය, මම පඨවි ධාතුව ආපෝ ධාතුව, තේජෝ ධාතුව කියන ඒ පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන සතර මහා ධාතු මම කියලා පිළිගන් නෑ. මම ඉන්නවා කියලා

පිළිගන්නෑ. මගේ කියලා පිළිගන් නෑ. මම චුත වෙනවා කියලා මම පිළිගන්නෙ නෑ. ඉතින් පඨවි ධාතුව මම අගය කරන්නෙ නෑ. පින්වත් බ්‍රහ්මය ඔය විදියට අවබෝධ කරනකොට මා හා කිසිවෙක් සමාන නෑ. පහත් බවක් ගැන කවර කතා ද. අවබෝධයෙන් මම ඉන්නෙ ඔබට වඩා ඉහළින්. ඔබ පඨවි, ආපෝ, තේජෝ, වායෝ කියන සතර මහා ධාතු තුළ බැසගෙන දෙවියන් තුළ බැසගෙන, ලෝකාධිපති අදහසේ බැසගෙන, බ්‍රහ්ම අදහසේ බැසගෙන, ආභස්සර දෙවියන්ගේ ස්වභාවයේ බැසගෙන, සුභකිණ්ණ, වේහප්පල, අභිභූ කියන දෙව්වරුන්ගේ ස්වභාවල් වල හිත බැසගෙන තියෙන්නෙ. මම ඒ සියල්ලගෙන්ම නිදහස් වුනා. මම, මගේ, මගේ ආත්මය, මම ඉන්නවා, මම චුතවෙනවා, ඔය අදහස් බුදුවරුන්ට නෑ. එතකොට ඒ අවබෝධයත් එක්ක බලනකොට ඔබ කිසිසේත් සමාන වෙන් නෑ බුදු කෙනෙකුට. සමාන වෙන්නැත්නම් ඔබට වඩා මං ඥාණයෙන් පහත් කියන වචනය ගැලපෙන්නෙවත් නෑ. බුදුරජාණන් වහන්සේලා සැමට ඉහළින්, අවබෝධයෙන් වැඩ සිටිනවා. ඊටපස්සෙ බක බ්‍රහ්මයා අහනවා, නිදුක් මුණිඳුනි, එහෙනම් සියල්ල තුළින්, සියලු ආකාරයෙන්, සකස් වෙන තැන් වේද, එයට හසු නොවෙන දෙයක් ගැන ඔබ කිව්වා. ඔය කතාව හිස් දෙයක් නොවේවා. ඔය කතාව බොරුවක් නොවේවා. ඒ කියන්නෙ, සකස් නොවෙච්ච තැනක්, භවයක් හැදෙන්නෙ නැති තැනක් බ්‍රහ්මයෙකුටවත් හිතාගන්න බෑ. ඉතින් කියනවා ඔබ කියන කතාව බොරුවක් නම් වෙන්න එපා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා බ්‍රහ්මය, රහතන් වහන්සේගේ විඤ්ඤාණය නිදර්ශන රහිතයි. අනන්තයි. ඊළඟට සියල්ලටම වඩා ප්‍රභාෂ්වරයි. ඒ විඤ්ඤාණය පඨවි ධාතුවෙන් හැදෙන පඨවි ධාතුවකට අයත් කිසි දේකට අහුවෙලා නෑ. රහතන් වහන්සේගේ විඤ්ඤාණය පඨවි ධාතුවට අයිති දේවල් වලින් හැදිච්ච එකක් නෙවෙයි. එහි බැසගෙන නෑ. ඊළඟට හසුවෙලා නෑ. ආපෝ ධාතුවට අයිති දේක බැසගෙන නෑ. තේජෝ ධාතුවට අයිති දේක බැසගෙන නෑ. වායෝ ධාතුව හැදෙන, වායෝ ධාතුවට අයත් කිසි දේකට අහුවෙලා නෑ, ඉපදෙන සත්ත්වයන්ගේ ඉපදෙන ස්වභාවයට අහුවෙලා නෑ. දෙවියන්ගේ දිව්‍ය ස්වභාවයට අහුවෙලා නෑ. ලෝකාධිපති දෙවියන්ගේ ලෝකාධිපති ස්වභාවයට අහුවෙලා නෑ. බ්‍රහ්මයන්ගේ බ්‍රහ්ම ස්වභාවයට, ආභස්සර දෙවියන්ගේ ආභස්සර ස්වභාවයට, සුභකිණ්ණ දෙවියන්ගේ සුභකිණ්ණ ස්වභාවයට, වේහප්පල දෙවියන්ගේ වේහප්පල ස්වභාවයට, අභිභූ දෙවියන්ගේ අභිභූ ස්වභාවයට අහුවෙලා නෑ. ඒ සියලු දේකටම අහුවෙලා නැති අනිදර්ශන විඤ්ඤාණයක් තමයි රහතන් වහන්සේලාට තියෙන්නෙ. එහෙනම් එතනින්

මෙහා රහතන් වහන්සේලා නොවුන නිකෙලෙස් නොවුන කෙනෙක්ගේ විඤ්ඤාණය එක්කො පඨවි ධාතුවට අයිතියි. ඒකට අහුවෙලා. ආපෝ ධාතුවට, තේජෝ ධාතුවට, වායෝ ධාතුවට, ඊළඟට දෙවියන්ට, බ්‍රහ්මයන්ට මේ ලෝකෙටම අහුවෙලා තියෙන්නෙ. විඤ්ඤාණය. ආයෙ ගැලවෙන්න බෑ, රහතන් වහන්සේට තමයි කිසි දේකට අහුවෙච්චි නැති, කිසිදේකින් පනවන්න බැරි විඤ්ඤාණයක් තියෙන්නෙ. ඒ විඤ්ඤාණයට කියනවා අනිදර්ශන විඤ්ඤාණය. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ එහෙම කියනකොට බක බ්‍රහ්මයා දැන් ඊළඟට කල්පනා කලා දැන් මේ වාදය නතරවෙන් නෑ. බක බ්‍රහ්මයා කිව්වා හරි මං දැන් ඔබ වහන්සේ ඉදිරියේ අතුරුදහන් වෙනවා. දැන් ඔබවහන්සේට කරන්න පුලුවන් දෙයක් කරන්න. භාග්‍යවතුන් වහන්සේ වදාළා එහෙනම් හොඳයි බ්‍රහ්මය, ඔබ ඔතනින් අතුරුදහන් වෙන්න. එතකොට බුදුරජාණන් වහන්සේ ඍද්ධියක් කලා මේ බ්‍රහ්මයාට අතුරුදහන් වෙන්න නොහැකි වේවා කියලා. ඉතින් බක බ්‍රහ්මයා හිතනවා මං දැන් අතුරුදහන් වෙනවා නොපෙනී යනවා, අතුරුදහන් වෙනවා නොපෙනී යනවා කියලා ඒ බක බ්‍රහ්මයාගේ හිත වැඩ කරන් නෑ. ඍද්ධිය වැඩ කරන් නෑ, ආනුභාවය වැඩ කරන් නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාලා හරි එහෙනම් මං දැන් අතුරුදහන් වෙලා යන්නම්. මං දැන් අතුරුදහන් වෙලා යන්නම් කියලා කියනකොට බක බ්‍රහ්මයා කිව්වා, හරි එහෙනම් අතුරුදහන් වෙලා යන්න. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ අතුරුදහන් වෙලා යනකොට බක බ්‍රහ්මයා අධිෂ්ටානයක් කරනවා මේ ශ්‍රමණයාට අතුරුදහන් වෙන්න බැරි වේවා කියලා. නමුත් ඒවා බලපවත්වන්නෑ. බුදුරජාණන් වහන්සේ එතනින් අතුරුදහන් වෙලා ගියා. නොපෙනී ඉඳගෙන බුදුරජාණන් වහන්සේ අතුරුදහන් වූ ස්වරූපයෙන්, රූපයෙන් කටහඬ පැතිරුවා. මම මේ භවය යථාර්තයක් වශයෙන්ම බියජනක තැනක් බව අවබෝධ කලා. භවය තුළ විභවය සොයන අයවත් දැක්කා. ඒ නිසා මං භවය අගය කලේ නෑ. කිසිම ආකාරයකින් භවය කෙරෙහි තෘෂ්ණාවෙන් බැඳුනෙ නෑ. ලෝකයේ බොහෝ දෙනා විමුක්තියක් හොයනවා කියලා කරන්නෙ සසරෙ යන ස්වභාවයෙන්ම ඉඳගෙන ඒවම රැස් කර කර, නිවනක් හොයනවා. ඒ සියල්ලම අතහැරලා සදාතනික සුවයට පත්වුනු කෙනෙක් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ මේ විදියට නොපෙනී මේ විස්තරය කරනකොට ඒ බ්‍රහ්ම පිරිස අතිශයින් විශ්මයට පත්වුනා. අතිශයින් විශ්මයට පත්වෙලා කියනවා භවත්නි ඒකාන්තයෙන් ආශ්චර්යයි, අද්භූතයි. මේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේගේ ඍද්ධිමත්

භාවය ආනුභාවසම්පන්න බව පුදුමයි. කවදාවත් මීට පෙර ශාක්‍යවංශයෙන් පැවිදි වූ, ශාක්‍ය පුත්‍ර වූ ශ්‍රමණ ගෞතමයන් වහන්සේ තරම් මේ සා ඍද්ධිමත්, මේ සා ආනුභාව සම්පන්න ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ ගැන අපි අහලත් නෑ, දැකලත් නෑ, පින්වත් භවයෙන් සතුටු වෙන, භවයේ ඇලී වසන, භවයට පිනා යන සත්ත්වයන් සිටින ලෝකයේ මුල් සහිතව භවය උදුරා දැම්මා කිව්වෙ ශ්‍රමණ භවත් ගෞතමයන් විතරමයි. වෙන ලෝකෙ කිසිම කෙනෙක් මේ භවයෙන් නිදහස් වුනා කියලා ප්‍රතිඥා දුන් නෑ, පින්වත් මහණෙනි, එතකොට පාපී මාරයා එක්තරා බ්‍රහ්ම පාරිසජ්ජ දෙවියෙකුට ආවේශ වුනා. ආවේශ වෙලා මෙහෙම කිව්වා. නිදුක් මුණිඳුනි, ඉතින් ඔබට මේ විදියට දන්නවා නම් ඔබ ඔවැනි අවබෝධයකින් යුක්ත නම් ඔබ පාඩුවේ ඉන්න. මේ එක එක්කෙනාට මේවා කිය කියා යන්න හදන්න එපා. ශ්‍රාවකයන් ළඟට යන්න එපා. පැවිද්දන් ළඟට යන්න එපා. ශ්‍රාවකයන් හෝ පැවිද්දන් ළඟට හෝ ගිහිල්ලා බණ කිය කියා යන්න හදන්න එපා. ධර්මය දේශනා කරන්න එපා. ශ්‍රාවකයන් ඇති කරගැනීමට ඔච්චර ආසාව ඇතිකරගන්න එපා. පැවිද්දන් ගැන ඔච්චර ආසාව ඇතිකරගන්න එපා. ඒයි භික්ෂුව නුඹට කලිනුත් කට්ටිය හිටියා මම බුදු වෙලා කියලා, අර්හත්වයට පත්වෙලා කියලා, ඒ අයත් ශ්‍රාවකයො ළඟට ගිහිල්ලා බණ කිව්වා, එක එක දේවල් ගිහිල්ලා කිව්වා. ඒ අය ශ්‍රාවකයන්ට ඇලුනා, පැවිද්දන්ට ඇලුනා. ඇලිලා ගිහිල්ලා දන්නවද මොකද වුනේ කියලා, මැරුණට පස්සෙ අපායෙ ගියා කිව්වා. ඊටපස්සෙ කියනවා ඒයි භික්ෂුව නුඹට කලිනුත් හිටියා ලෝකෙ අය මම රහත් වෙලා සම්මා සම්බුදුයි කියලා. ඒ අය බණ කියන්න ගියෙ නෑ, පාඩුවෙ එක පැත්තකට වෙලා එක එක්කෙනාට ඕවා කියන්න ගිහිල්ලා නැතිව පාඩුවෙ තනියෙන් හිටියා. දන්නවද මොකද වුනේ කියලා, මැරුණට පස්සෙ දිව්‍යලෝකෙ ගියා කිව්වා. දැන් මාරයා දැන් කියන්නෙ. ඒ නිසා අනිත් අයට කුසල් ගැන ඒවා අවවාද කරන්න යන්න හදන්න එපා. පින්වත් මහණෙනි එහෙම කිව්ව මාරයට මං මෙහෙම කිව්වා. ඒයි මාරය, මං නුඹ ගැන දන්නවා. නුඹව හඳුනන්නනෙ නෑ කියලා හිතන්න එපා. අනුකම්පාවෙන් නම් නෙවෙයි ඔබ ඔය විදියට කියන්නෙ මේ මිනිස්සු ගැන. ලෝක සත්ත්වයා ගැන අනුකම්පාවෙන් තොරවමයි ඔබට ඔය වචන ටික පිටවෙන්නෙ. පාපී මාරය, ඔබට හිතුනා නේද මෙහෙම, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ යම් පිරිසකට දහම් දේශනා කලොත් ඒ පිරිස මේ සංසාරෙන් නිදහස් වෙයි කියලා හිතුනා නේද. ඒක නේද ඔච්චර බය වෙලා කම්පා වෙලා සලිත වෙලා ඉන්නෙ ඔය. ඒයි මාරය සම්මා සම්බුදු නොවූ ශ්‍රමණ බ්‍රාහ්මණවරු නම් තමන් සම්මා

සම්බුදුයි කියලා ලෝකෙට හඳුන්වලා දෙන්න වුනත් පුලුවනි. නමුත් මම සම්මා සම්බුදුව සිටින නිසාමයි සම්මා සම්බුදු කියලා කියන්නෙ. අනිත් අය එක එක විදියට කියන්න පුලුවන්. නමුත් ඇත්තටම බුදු කෙනෙක් නිසයි මම සම්මා සම්බුදු කෙනෙක් කියලා කියන්නෙ. තථාගතයන් වහන්සේ ශ්‍රාවකයන්ට දහම් දෙසුවත් සම්මා සම්බුදු කෙනෙක්මයි. දහම් දේශනා නොකලත් සම්මා සම්බුදු කෙනෙක්මයි. ශ්‍රාවකයින් ළඟට ගියත් සම්මා සම්බුදු කෙනෙක්මයි. ශ්‍රාවකයින් ළඟට නොගියත් සම්මා සම්බුදු කෙනෙක්මයි. ඇයි මං එහෙම කියන්නෙ. ඒයි මාරය, සිත කිළුටු කරන පුනර්භවය ලබාදෙන, ඒ වගේම දුක් විපාක ඇති කරන, ආයෙමත් ඉපදීම ජරා මරණ සොක පරිදේව දුක්ඛ දෝමනස්සයො ඇති කරන ඒ ආශ්‍රව මුලින්ම උදුරා දමලා තියෙන්නෙ. ආශ්‍රව රහිත කොට තබලා තියෙන්නෙ. අභාවයට පත්කොට තිබෙන්නෙ. ආයෙ කවදාවත් හටනොගන්නා තත්ත්වයට පත් කරලා තියෙන්නෙ. ඒයි මාරය, ඒක මේ වාගේ දෙයක්. කරටිය සම්පූර්ණයෙන්ම කැඩිච්ච තල්ගහක් ගැන හිතන්න. ඒක ආයෙ කවදාවත් දළු දාලා වැඩෙන්නෑ, ඒයි මාරය, ඔන්න ඔය වගේමයි. සිත කිළුටු කරගෙන පුනර්භවය ලබාදෙන පීඩා සහිත දුක් විපාක ඇති ආයෙමත් ඉපදීම් ජරා මරණ ලැබෙන ආශ්‍රවයන් තථාගතයන් වහන්සේට ප්‍රහාණය වෙලා තියනේනෙ. මුලින්ම සිඳිලා තියෙන්නෙ. අභාවයට පත් කරලා තියෙන්නෙ. ආයෙ කවදාවත් හටනොගන්නා ස්වභාවයට පත්වෙලායි තියෙන්නෙ. ඊටපස්සෙ මේ විදියට බුදුරජාණන් වහන්සේ දේශනා කරනකොට මාරයා නිරුත්තර ස්වභවායට පත්වුනා. බ්‍රහ්මයාගේ ඉල්ලීමට ඒ කරුණු තේරුම් කරපු නිසා තමයි මෙය බ්‍රහ්ම නිමන්තනික කියලා කියන්නෙ. ඕන්න ඔය විදියට තමයි බක නම් බ්‍රහ්මයා දමනය වුනේ. එදා ඉඳලා ඒ දෘෂ්ටි වල වාසය කලේ නෑ. දැන් බලන්න මේ එක එක බලවේග කියන ඒවා. බ්‍රහ්මයන් පවා වසඟයට ගන්නවානෙ. බුදුරජාණන් වහන්සේට මූණට මූණ කතා කරනවා. අතහරින් නෑ ලේසියනේ. මීළඟට මේ ලෝකය තවත් කෙනෙක් තමාව පරාජයට පත් කලා, තමාව ඉක්මවා ගියා කියනකොට ඔවුන් පිළිගන් නෑ. හේතුව එච්චරම තියෙනවා ඔවුන්ට විශ්වාසය කිසි කෙනෙකුට මේවා ඉක්මාව යන්න බෑ කියලා. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ ජීවමාන කාලෙ ඔහොම හිටියා නම්, අද කාලෙ කියන්නෙ ඕවා බණ කිය කියා යන්න එපා. ඕවා හරියන්නෙ නෑ. නිකං පච කියා කියා යන්න එපා. පින් කරනවා කිය කියා යන්න එපා. චෛත්‍යය හදන්න එපා. පින් කරන්න එපා. නිවන් දැකපල්ලා. ඇස් දෙක පියාගෙන හිටපල්ලා. භාවනා කරපල්ලා. කියලා එක එක විදියට කියනවා. ඊටපස්සෙ ඔන්න කෙනෙක් භාවනාවට

යොමුවෙනවා. ඊටපස්සෙ ගුරු ඇසුරක් නෑ, ධර්මය මනාව ඉගෙන ගෙන නෑ. ඊටපස්සෙ මොකද වෙන්නෙ ඒ භාවනාවෙන් සමාධියෙන් යම්කිසි දෙයක් ඉපදුනාට පස්සෙ ඒ තුළින් මොකාක්හරි මිත්‍යා දෘෂ්ටියක් ගොඩනගා ගන්නවා. ඒ මිත්‍යා දෘෂ්ටිය ලෝකෙට කිය කියා යනවා. ඒවට කවුරුත් බාධා කරන් නෑ. ඒවා ගැන කවුරුත් කියන් නෑ. නමුත් පිරිසිදු ධර්මයක්, බුදු කෙනෙක්ගේ ධර්මයක් කියාගෙන යනකොට ඒකටමයි බාධා, ඒකටමයි කරදර. ඒ ධර්මය පුරුදු කරනකොටමයි තියෙන්නෙ ඒකට හානි. මීට කලින් වැඩසටහනක අපි මතක් කලා වගේ දැන් තියෙනවා හින්දුන්ගෙ, දැන් අපි කියමුකො සාධු වරු ලක්ෂ සංඛ්‍යාත, ඉන්දියාවෙ ගත්තොත් කෝටි පහකට ආසන්න ප්‍රමාණයක් සාධුවරුම ඉන්නවා. නිගණ්ඨයො ලක්ෂ ගාණක් ඉන්නවා. සාධුවරු ලක්ෂ ගාණක් ඉන්නවා. එතකොට ඒ අය එහෙම කරගනෙ ඉන්නවානෙ ඉතින් ඔය හීතලේ ඉන්නවා, අළු තවරාගෙන ඉන්නවා, ගංජා ගහගෙන ඉන්නවා. ඊටපස්සෙ මුළු ජීවිත කාලෙම ඉන්නවානෙ, භජන් කිය කියා ඉන්නවා. එතකොට ඒ ගත්තොත් එකම මන්තරය කෝටි ගණන් වාර සජ්ඣායනා කරමින් ඒකෙන් ධ්‍යාන කරනවා. ඒ හිමාලයේ ඉන්න තාපසයො ධ්‍යාන කරන ඒ මන්ත්‍ර ලංකාවේ කෙනෙක් ටීවී එකකින් හරි හොයාගෙන එහෙම කළත් එයාටත් ඒක කරගෙන යන්න පුලුවන්නෙ. දැන් ඔය යාගහෝම කරන, ගිනි පුදන, ඕවා ටීවී වලින් බලලා, වීඩියෝ වලින් බලලා මේ ලංකාවෙත් ගෙවල් වල ගිනි හදන ගිනි උදුන් හදාගෙන ගිනි පූජා කරගෙන ඉන්න ළමයි මට මුණගැහිලා තියෙනවා. එවුන් ඒවා යසට කරනවානෙ ටීවීවලින් බල බලා. දැන් අපිත් මේ ටීවී එකෙන් කියනවානෙ සතර සතිපට්ඨානය ගැන, චතුරාර්ය සත්‍යය අවබෝධ කරන එක ගැන. තෙරුවන් සරණ ගැන. මේවා යන්නෑනෙ මිනිස්සුන්ගේ හිත්වලට. දැක්කද තමන්ගේ ධාතුවට ඒවා ගැලපිලා පෑහිලා යන හැටි. ඇත දෙයක් තිබ්බත් ඒවා හිත්වලට යනවා. ළඟ තියෙන දහම යන්නෙ නෑ. ඒ නිසා අපි මේ ධර්ම දේශනා කලා කියලා අපිට මේ ඉන්න ඔක්කොම මිනිස්සු ගොඩාක් බණ අහන්න ඕනය, මේ ඔක්කොම මේ ධර්මය තේරුම් ගනියි කියලා අපිට අදහසක් නෑ,මොකද කියන්නෙ එකක් ඇහෙන්නෙ වෙන එකක්. එතකොට ඒ ඇහෙන්නෙ තමන්ගේ හිත් වල තියෙන ඒවා. යෝනිසොමනසිකාරය කියන එක මනුෂ්‍යයාට පොඩ්, සුළු වශයෙන් තියෙන්නෙ. නැත්තෙම නැති තරම්. ඒ ඔය දහම් අර්ථ වැටහෙන්නෑ. සසර ගමන තේරෙන් නෑ. ඔක්කොම හොයන්නෙ ක්ෂණික වාසිය, ක්ෂණික ප්‍රතිලාභය. දැන් වැඩිය ඕන නෑ, මිනිස්සුන්ගේ හිත් පේනවානෙ. ක්ෂණික වාසිය

ක්ෂණික ප්‍රතිලාභය මිනිස්සු හොයන්නෙ. ඒ නිසා නේද මිනිස්සු දැන් බලන්නෙ, ගහක් කොළක් හදන්න ගියත්, අඹ ගහක් හැදුවත් ඉක්මණට අඹ එල ගන්න. පොල් ගහක් හැදුවත් ඉක්මණට පොල් එල ගන්න. වී වලට බීජ ගෙනාවත් ඉක්මණින් අස්වැන්න ගන්න. ඒ වගේම මලක් ගත්තත් ඉක්මණින් මල් හැදෙන, කඩෙන් මල් පැලයක් ගේන්නෙත් අනාගතේ මල් හැදෙන එක බලාගෙන නෙවෙයි, සමහර විට මල් පොහොට්ටු තියෙන ඒවා අරන් එන්නෙ. ක්ෂණික දේ ඕනවෙන්නෙ. කෑම, කෑමබීම ක්ෂණිකව, ක්ෂණික ආහාර පාන වලටනෙ ගොඩාක් මිනිස්සු යොමුවෙලා තියෙන්නෙ. ඒ තමයි මනුස්සයාගේ මානසික චින්තනය දැන් හැදෙන විදිය. හැමදෙයක්ම ක්ෂණිකව. දැන් ඔන්න අපි කියමුකො ඉස්සර චිත්‍රයක් අඳිනකොට මාස ගණන්, අවුරුදු ගණන් ඒක බිත්තියේ ඇඳලා ඒවට මේවා ගහගෙන ලස්සනට ලස්සනට හිමීට හිමීට අඳිනවානෙ. ඔන්න දැන් අලුතින් බිහි වෙලා තියෙනවා විනාඩි කිහිපයකින් සම්පූර්ණයෙන් බිත්තියේ චිත්‍රයක් අඳිනවා මැෂින් එකෙන්. ඔටෝ මැෂින් එකෙන්ම ඔටෝ ආයෙ මනුස්සයින්ගේ ක්‍රියාකාරිත්වයක් නෑ. මනුස්සයා කරන්නෙ ඒ චිත්‍රය කම්පියුටරෙන් අරන් ඒ කම්පියුටර්ගත කිරීම. ඊටපස්සෙ ඒක මැෂින් එකට දෙනවා මැෂින් එකෙන් බිත්තියේ ඇඳෙනවා විනාඩි කීපයක් ඇතුලත. ඔක්කොම ක්ෂණික. ඔන්න ඔය මානසික මට්ටමින් ඉන්න මිනිස්සු ධර්මය අහන්නෙත් ක්ෂණික ප්‍රතිලාභයක් බලාගෙන. එතකොට එයාට එක බණක් අහනකොටම ලොකු වෙනසක් පේන්න ඕන. භාවනාවට ඉඳගත්ත ගමන් සමාධිය පේන්න ඕන. සමාධි සමාපත්ති පේන්න ඕන. ක්ෂණික ප්‍රතිලාභ. ඊළඟට ටික දොහක් යනකොට සෝවාන් වෙන්න ඕන. සකදාගාමී වෙන්න ඕන, අනාගාමී වෙන්න ඕන, රහත් වෙන්න ඕන. ඒවා එයාට හොඳට දැනෙන්න ඕන. ආන්න ඒවා තමයි මිනිස්සු හොයාගෙන යන්නෙ. හොඳට කල්පනා කරන්න. ඊටපස්සෙ මිනිස්සුන්ට ඇඟට දැනෙන්න ඕන, ඊළඟට මොකක්දො වෙලා යන්න ඕන. ඒ නිසානෙ යක්ෂ ඇදහීම්, ඊළගට මිනිස්සුන්ට ඔන්න අලුත් දෙයක්, තියෙන දේවල් වැරදියි. එහෙනම් ඉතිහාසය අලුත් විදියට එයාලට ඕන. ඒ විදියට තමයි මනුස්ස ලෝකෙ ගොඩාක් වෙනස් වෙලා පින්වත්නි. ඉතින් ඔය අතරෙ අපි අණබෙරකරුවන් වගේ. භාග්‍යවතුන් වහන්සේගේ දහම් පණිවිඩය මේ වගේ ගමින් ගමට අණබෙරය වයමින් යනවා. ඒක මිනිස්සු තේරුම් ගන්නවාද, නැද්ද කියන එක අපි දන්නෑ. නමුත් රජ කෙනෙක්ගේ පණිවිඩයක් අණබෙර කරුවෙක් විසින් ගමට ගහගෙන එනකොට ගමේ මිනිස්සු මේක ඇහුවද නැද්ද මිනිස්සුන්ට පණිවිඩේ ගියාද ඒවා හොයන් නෑ. එයා පොදු ස්ථානයකදී වෙනදා

විදියට අණබෙරය ගහනවා. ඒ වාගේ අපිත් කල්පනා කලා අපි බුදුරජාණන් වහන්සේගේ දහම් පණිවිඩය තමයි අණබෙරකාරයෙක් වගේ මේ වයන්නෙ. එතකොට ඒක මිනිස්සු ඒක කොයි විදියට ගන්නවාද කියන එක අපි වැඩිපුර හිතන් නෑ. හිතන්නැත්තෙ මිනිස්සු එක එක විදියට මේක ගන්නවා. ඉතාමත් අතලොස්සක්, දැන් බ්‍රහ්ම නිමන්තනික සූත්‍රයේ දැන් අද අපි ශ්‍රවණය කලා. එතකොට ඒ සූත්‍රය ශ්‍රවණය කරනකොට අපි කල්පනා කරන්න ඕනවෙන්නෙ අනේ අපේ භාග්‍යවතුන් වහන්සේ බ්‍රහ්මයන් අතරට පවා වැඩම කරලා ඒ බ්‍රහ්මයන්ගේ යම්කිසි පාපී දෘෂ්ටි තියෙනවා නම් ඒවා බැහැර කලා. ඒ වගේම බුදු කෙනෙක් දහම් දේශනා කරනකොට ඒකට විරුද්ධව එක බලවේගයක් නැගී හිටියා. ඔවුන් බ්‍රහ්මයන්ගේ සිත පවා ආක්‍රමණය කලා, වසඟයට ගත්තා. බ්‍රහ්මයන්ගේ සිත පවා වසඟයට ගත්තා නම් අද කාලෙ මිනිස්සුන්ගේ හිත් වසඟයට ගැනීම ගැන කවර කතා ද. එතකොට ඒ කාලෙ බුදුරජාණන් වහන්සේ ඉදිරියටත් ගිහිල්ලා කරපු අභියෝගය තමයි බණකියන්න එපා කියලා. දහම් දේශනා කරන්න එපා. තමන්ගේ පාඩුවේ හිටපල්ලා කියලා. එතකොට අද වුනත් යම්කිසි කෙනෙක් බුදු කෙනෙක්ගේ ධර්මයක් දේශනා කරනකොට ඒකට විරුද්ධයි නම්, ඒකට ගහනවා නම්, ඒකට නින්දා කරනවා නම්, ඒකට අපහාස කරනවා නම්, එයා පැත්ත දාන්න කටයුතු කරනවා නම් ඒ ඔක්කොගෙම පිටිපස්සෙ තියෙන්නෙ කුමක්ද කියලා නුවණැති කෙනා තේරුම් ගන්න ඕන. මේ තමයි පින්වත්නි අවසාන යුගය. තමන්ගේ තරම හොඳට තේරුම් ගන්න. බුද්ධ ශාසනයේ බුදුරජාණන් වහන්සේ කෙරෙහි ශ්‍රී සද්ධර්මය කෙරෙහි, ආර්ය මහා සංඝරත්නය කෙරෙහි චිත්ත ප්‍රසාදය ඇති කරගන්න. සීලය ආරක්ෂා කරගන්න. ඊළඟට චෛත්‍ය රාජයාණන් වහන්සේලා, බෝධි රාජයාණන් වහන්සේලා වන්දනා කරගන්න. පින් දහම් කුසල් දහම් රැස් කරගන්න. දන් පැන්පූජා කරගන්න. ධර්මය ශ්‍රවණය කරගන්න. තුණුරුවන් කෙරෙහි හොඳට පහදින්න ධර්මානුකූලව. මේ ඔබට තුණුරුවන් හඳුන්වලා දෙන්නෙ සූත්‍ර දේශනා ඇසුරෙන්. ධර්මයෙන්මයි ඔබට තුණුරුවන් හඳුන්වලා දෙන්නෙ මේ. ඒ නිසා මේ වටිනා සම්පත ඔබ ලබාගන්න. ලබාගෙන අපිට බුද්ධ කාලෙත් එක්ක බලනකොට අද වෙනකොට අපිට ඉතාමත් සීමිත ස්වභාවයයි අපේ ශක්ති පමණින් ගන්න පුලුවන්කම තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේගේ ධර්මය, බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ මහා දැවැන්ත ධාන්‍ය ගොඩක් කියාලා හිතුවොත් ඒ ධාන්‍ය ගොඩෙන් අපිට ධාන්‍ය රැගෙන යන්න තියෙන්නෙ තම තමන් ළඟ තියෙන භාජන අනුව. ඒ නිසා මේ බුද්ධ ශාසනයේ සීල, සමාධි,

ප්‍රඥා ආදී මහා ධාන්‍ය කන්දක් තියෙනවා. එතකොට ඒ ධාන්‍ය කන්දෙන් ඒ අධි සීල, අධි චිත්ත, අධි ප්‍රඥා, සත්තිස් බෝධිපාක්ෂික ධර්ම, මහා සතිපට්ඨානය, ඒ වගේම ධ්‍යාන සමාධි සමාපත්ති, මේවා බුද්ධ ශාසනයේ මහා ධාන්‍ය ගොඩක් කියලා හිතන්නකො උපමාවකින්. හැබැයි ඒවා ගන්න තියෙන්නෙ තමන්ගේ තියෙන භාජනයෙන්. පුළුවන් ප්‍රමාණයෙන්. තමන්ගේ භාජනයෙන් තෝරුම් ගන්න. තෝරුම් අරන් තුණුරුවන් සරණ තමයි ගෞතම බුද්ධ ශාසනයේ අවම ප්‍රතිලාභය. ඒකවත් ගන්න. බුද්ධ කාලයේ අවම ප්‍රතිලාභය, දැන් උපරිම ප්‍රතිලාභය. තුණුරුවන් සරණ. ඒ නිසා මේ විස්තර අහලා දිවි තිබෙන තුරු නිවන් දකිනතුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකිනතුරු මම ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකිනතුරු මම ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. මේ උතුම් තිසරණය අපගේ ජීවිතයට එකම පිළිසරණ වේවා. එකම රැකවරණය වේවා. අපිටත් සසර දුකින් නිදහස් වෙන්න මේ ධර්ම ශ්‍රවණය හේතුවාසනා වේවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඉතාලියේ භූස්තෝ නගරයේ පදිංචි සදීෂ් කෘෂ්ග් මහත්මයා, ඒ වගේම රවිනි ඒකනායක මහත්මිය, අනන්‍යා දියණිය, ඇරන් පුතණුවන්, කෝකිලා සහ ගර්ටි මෑණියන් යන පින්වතුන්. ඉතින් මේ රැස් කරගත්තු සියලු පින් සියලු දෙවියන්ට අනුමෝදන් වී සියලු දෙවියෝ මේ පින්වතුන් ආරක්ෂා කරත්වා. මියපරලොව ගිය සියලු ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා. පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට ඒ වගේම ගරුතර මහා සංඝරත්නයට මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම සිල් මෑණිවරුන්ට පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින අනුමෝදන් වේවා. ඒ ගෞතම සසුනේ ධර්මාවබෝධය පිණිස මේ පින් අනුමෝදන් වේවා. ඒ වගේම පින්වතුන් නමින් සුජීවත්ව සිටින පවුලේ සියලු දෙනාට නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා. ඒ වගේම ඉතාලියේ පදිංචි සදීෂ් කෘෂ්ග් මහත්මයා, රවිනි ඒකනායක මහත්මිය, අනන්‍යා දියණිය, ඇරන් පුතණුවන්, කෝකිලා සහ ගර්ටි මෑණියන් යන පින්වතුන්ට මේ පින් අනුමෝදන් වේවා. අපි සියලු දෙනාට මේ පින් බලයෙන් කායික දුක් දුරු වේවා. මානසික දුක් දුරු වේවා. කායික මානසික සැපය උදාවේවා. මව් දෙමව්පිය ඥාතිබන්ධුමිතාදීන්ට ලක්විරු ගුවන් විදුලියේ ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයට, ධර්මය ශ්‍රවණය කරන සියලු දෙනාට උතුම් තුණුරුවන් සරණ තුළින් බුද්ධානුභාවයෙන්, ධම්මානුභාවයෙන්,

සංඝානුභාවයෙන් සියලු රැකවරණය යහපත වේවා. ලොව දමනය කල, තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ සරණ තුලින් සසර දුක් කෙළවර කරගැනීමට ඔබ අප කාටත් වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=kziAFhTqXL0&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=68

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් නිරෝගී දීර්ඝායුෂම ලබත්වා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන තුළින් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ගැන ඒ බුදුරජාණන් වහන්සේ වදාළ ශ්‍රී සද්ධර්මය ගැන, ඒ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවක සංඝ රත්නය ගැන අපි ඉගෙන ගනිමින් පවතින්නෙ. එතකොට අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා කොරියාවේ සේවයේ නියුතු පින්වත් වීරසේකර බමුණු

මුදියන්සේලාගේ සංඛ මහත්මයා සහ සුභාෂ් සාරංග මහත්මයා විසින් දායකත්වය දරන්නෙ. ඉතින් කොරියාවේ අන්සාන් සහ තේගු අසපුවට සම්බන්ධ මේ දරුවන් බොහෝ පින් රැස් කරගන්නවා ලෝකයටම මේ උතුම් ධර්ම දේශනා ශ්‍රවණය කරන්නට සැලැස්වීම තුලින්. ඉතින් පින්වත්නි, බුදුරජාණන් වහන්සේගේ ජීවිතය සම්බුදු ජීවිතය අපි තේරුම් ගන්න ඕන. තේරුම් ගන්නේ ධර්මය තුළින්. අපි සරණ ගිය ශාස්තෘන් වහන්සේ ගැන අපිට තියෙන පැහැදීම තමයි ඇත්තටම අපිට තියෙන ලොකු ආරක්ෂාව. ඒක තමයි සරණ. ඒක තමයි පිහිට. ඒක තමයි රැකවරණය. එතකොට බුදුරජාණන් වහන්සේ ගැන තියෙන පැහැදීම ධර්මානුකූලව කරුණු සහිතව හිතේ ඇතිවෙනවා නම් ඒක ආකාරවතී සද්ධා. නමුත් හේතු සහිත නැතිව එකපාරම හිත ඉලිප්පෙමින් ඇතිවෙන පැහැදීමක් එනවා. ගොඩක් අයට ඇතිවෙන්නෙ බුදුරැස් විහිදෙනවා දැක්කම ඊටපස්සෙ මොකක්හරි එකක් කියනකොට, එහෙම ලොකුවට තේරුමක් නෑ සාදු කියලා කියනවා. එතකොට ඒකත් යම් ශ්‍රද්ධාවක්. ඒක අමූලිකා සද්ධා. ඒක මුල් බැසගෙන නෑ. ඕනම දේකින් වෙනස් වෙන්න පුලුවන්. නමුත් මේ ධර්මය අහලා මේ සූත්‍ර දේශනා ඇසුරෙන් අනේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මෙහෙම කෙනෙක්නේ, මෙහෙම කෙනෙක්නේ කියලා තේරුම් ගන්නකොට ඒක ආකාරවතී සද්ධා. ඒක හිතේ බැසගන්නවා. මේක තමයි ඔබ නිවනට පමුණුවන්නෙ. ඉතින් ඒ නිසා කරුණු කාරණා කල්පනා කරලා හිතනකොට හිතෙනවා පුදුම සහගතයි මේ වාගේ දේශනා ඔබට අහන්න ලැබෙන එක. කවුරුහරි කෙනෙක් දිගටම ශ්‍රවණය කරනවා නම් එහෙම නැත්නම් දේශනා ආශාවෙන් කැමැත්තෙන් ශ්‍රවණය කරනවා නම්, ඒක ඔබගේ ජීවිතයට විශාල යහපතක්. ධර්මයට කැමැත්ත තමයි ඔබ මේ ශාසනය තුළ දියුණුවට පමුණුවන්නෙ. ධම්මකාමො භවං හොති ධම්මදෙස්සි පරාභවො, ධර්මයට කැමැති නම් දියුණු වෙනවා, ධර්මයට ද්වේෂ කරනවා නම් පිරිහෙනවා. ධර්මයට අකමැති නම් නැවැත නැවැත දේශනා අහන්න බෑ. එයාට ඒක අප්පිරියයි. එහෙම තමයි සසරට යන සත්ත්වයා. නමුත් සංසාර දුකින් නිදහස් වෙන්න කැමැති කෙනාට මේ ධර්මය යනකොට ආසා හිතෙනවා. නැවැත නැවැත අහන්න හිතෙනවා. ඒක තමයි ඔබ නිවනට පමුණුවන්නෙ. ඉතින් මං කල්පනා කලා අද දවසේ, දැන් පහුගිය දවස්වල දේශනා වලදී අපිට විටින් විට කියවුනා එක්තරා බලවේගයක් හරීයට භාග්‍යවතුන් වහන්සේට විරුද්ධව කටයුතු කරනවා. ශ්‍රාවකයන්ට විරුද්ධව කටයුතු කරනවා. ඉතින් මේ කාරණාව පිළිබඳව ඔබ තේරුමක් ගන්නවා නම්

හොඳයි. මේක එක එක්කෙනාට කිය කියා කයි කතන්දර කිය කියා මේ ලෝකයේ පතුරුවන කතාවක් නෙවෙයි, තේරුම් ගැනීම පිණිස මේ කියන්නෙ. මේ ලෝකයේ තියෙන එක්තරා ස්වභාවයක්. මොකක්ද ඒ, ඒක තේරුම් ගන්න මේ විදියට. බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධත්වයට පත් වෙලා උරුවෙල් ජනපදයේ නේරංජනා ගඟ අයිනෙ තියෙනවා අජපාල නුග වෘක්ෂයක්. මම හිතනවා අජපාල නුග වෘක්ෂය යැයි සළකන විශාල වෘක්ෂයක් උරුවෙල් ජනපදයේ ඇතුලේ තියෙනවා. ඒකට නේරංජනා නදියෙන් එගොඩ වෙන්න ඕන. අපේ ඔය බුදුනුවණ අසපුව තියෙන ඒ භූමියෙ පිටිපස්සෙ තියෙන්නෙ. එතකොට එතන කියනවා උරුවෙල් කාශ්‍යප, නදී කාශ්‍යප, ගයා කාශ්‍යප ආදී ඒ ඇත්තො වාසය කරපු එක්තරා ස්ථානයක් කියලා සලකන තැනක විශාල නුග වෘක්ෂයක් තියෙනවා. ඒ නුග වෘක්ෂය ගෙයක් වගේ. ඒ නුග වෘක්ෂය වටේ පැදකුණු කරනකොට සෑයක් වටේ පැදකුණු කරන තරම් නුග වෘක්ෂය විශාලයි. ඒ විශාල නුග වෘක්ෂය කොටස් තුනකට පොලොවට බද්ධ වෙලා ඒ නුග ගහ මැද, නුග වෘක්ෂය මැද වෙනම කුටියක් වගේ තියෙනවා. ඉතින් එහෙම තැනක් තියෙනවා බොහෝ දෙනා කියනවා එතන අජපාල නුග වෘක්ෂය කියලා. ඉතින් කෙසේ නමුත් නේරංජනා ගඟ අයිනේ අජපාල නුග රුක මුල භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටියා, සම්බුද්ධත්වයට පත්වෙලා මුල් කාලයේ. බුදුරජාණන් වහන්සේ විවේකයෙන් වැඩ ඉන්නකොට හිතුනා, ඇත්තෙන්ම මං ඒ දුෂ්කර ක්‍රියාවෙන් නිදහස් වෙලා දුෂ්කර ක්‍රියාව අත්හැරිය එක කොයිතරම් හොඳද, මං ඒ දුෂ්කර ක්‍රියාව අත්හැරලා සතර සතිපට්ඨානයේ හිත පිහිටුවා ගත්තු නිසයි මට චතුරාර්ය සත්‍යය අවබෝධ කරන්න ලැබුනෙ. ඒක කොයිතරම් හොඳ දෙයක් ද. එහෙනම් තමන්ගේ ප්‍රතිපත්තිය දුෂ්කර ක්‍රියාව ද කියන එක නෙවෙයි මෙතන තියෙන්නෙ, සතර සතිපට්ඨානයේ හිත පිහිටනවා ද කියන එකයි ආර්ය සත්‍යය අවබෝධයට බලපාන්නෙ. එතකොට තමන් කන බොන දේවල්, තමන් මස් කනවාද, එළවළු කනවාද, උම්බලකඩ කෑල්ලක්වත් කන්නැද්ද, සුදු රෙදිද පොරවන්නෙ, සතර පෝයට ගිහිල්ලා පන්සලේ ඉඳගෙන ඉන්නවද, ඒවා නෙවෙයි වැදගත් වෙන්නෙ. සතර සතිපට්ඨානයේ හිත පිහිටනවාද කියන එකයි, ආර්ය සත්‍යය අවබෝධය පිණිස බලපාන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේට හිතුනා කොයිතරම් හොඳයිද මං දුෂ්කර ක්‍රියාව අත්හැරපු එක කියලා. ඒ වෙලාවේ පාපී මාරයා භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ පෙනී හිටියා. පෙනී ඉඳලා කියනවා, යම්කිසි තපසකින් සත්ත්වයන් පිරිසිදු වෙනවා නම් ඒ තපස වන දුෂ්කර ක්‍රියාව අත්හැරලා දාලා පිරිසිදු නැතිවම ඉඳගෙන පිරිසිදු වුනා

කියලා හිතනවාද. ඔබ ඒ මාර්ගය වරද්දවාගත්තා නේද. ඇවිල්ලා පෙනී ඉදලා කියනවා මේ ඔයා ඕක වරද්දගෙන ඉන්නෙ. පිරිසිදු වෙන්න තියෙන එකම ක්‍රමය දුෂ්කර ක්‍රියාව, ඒක අත්හැරලා දැන් නිකං මුලාවෙලා හිතනවා නේද, මං පිරිසිදු වුනා කියලා. භාග්‍යවතුන් වහන්සේ දැනගත්තා මොහු පාපී මාරයා කියලා. දැනගෙන ගාථාවකින් උත්තර දුන්නා. ඔය අමර තපස්ය කියන දුෂ්කර ක්‍රියාව ක්‍රියා කරලා ඒකෙන් වැඩක් වෙන්නෙ නැති බව මට අවබෝධ වුනා. ඔය කිසි දේකින් වැඩක් වෙන්නෙ නෑ, මරු කතරක දඬු කැලි අරගෙන නැවක් පදවන්නෙ කොහොමද. දුෂ්කර ක්‍රියාව කියන්නෙ හරියට කාන්තාරයක නැවක් පදවගෙන යනවා වගේ එකක් කිව්වා. ඒ නැව හරියන්නේ වතුරටනෙ. ඉතින් ආර්ය සත්‍යය අවබෝධය පිණිස වඩන්න තියෙන්නෙ. සීල, සමාධි, ප්‍රඥාවෙන් යුතු මාර්ගයයි. ඒ මාර්ගයේ ගමන් කරලා මං පරම පිරිසිදු බවට පත්වුනා. ඒයි පාපී මාරය, ඔය කාරණාවෙදි ඔබ පැරදිලා ඉන්නෙ. එහෙම කියපු ගමන් භාග්‍යවතුන් වහන්සේ මාව දැනගත්තා නෙව කියලා අතුරුදහන් වෙලා ගියා. මේ ලෝකයේ ස්වභාවයක් තමයි මාරයා දැනගත්තොත් එහෙම මේ අහවලා කියලා අනිත් අය දැනගත්තොත් එහෙම එයාට එතන ඉන්න බෑ අතුරුදහන් වෙලා යනවා. එතකොට බුද්ධත්වයට පත්වෙලත් පිටිපස්සෙන් එනවා. ඒ කියන්නෙ ඔහුට හිතන්න අමාරුයි, පිළිගන්න අමාරුයි, මෙහෙම කෙනෙක් නිදහස් වෙනවා කියන එක සසරෙන්. ඔහුගේ බලයෙන් නිදහස් වෙනවා කියන එක හිතන්න බෑ. ඊටපස්සෙ ඔන්න භාග්‍යවතුන් වහන්සේ අජපාල නුග වෘක්ෂයේ භාවනාවෙන් දවස් හතක් වැඩ හිටියානෙ. පඤ්චමං අජපාලංච, ඊටපස්සෙ සත්සතියෙන් පස්සෙත් බුදුරජාණන් වහන්සේ වැඩිපුර වැඩ ඉදලා තියෙන්නෙ අජපාල නුග වෘක්ෂයේ. ඊටපස්සෙ ඔන්න අජපාල නුග වෘක්ෂය මුල බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්නකොට මං මේ මාර සංයුත්තයේ, දේශනා සංයුත්තත නිකාය එක, ඒ සූත්‍ර ටික කියාගෙන යන්නෙ. එතකොට එයාට ඇතිවුනා පව්ටු මාරයාට කැමැත්තක් භාග්‍යවතුන් වහන්සේව භය කරවන්න ඕන කියලා. තැතිගන්වන්න ඕන කියලා, ඇඟේ මවිල් කෙලින් කරවන්න ඕන කියලා. ඉතින් ඔහු විශාල ඇත් රජෙකුගේ වේශයක් මවාගත්තා. භාග්‍යවතුන් වහන්සේ ඉදිරියට ආවා. ඒ දළ දෙක පිරිසිදු රිදී පාටයි, ඒ ඇතාගේ හොඬවැල් නගුල් දණ්ඩක් වගේ. ඉතින් ඇවිල්ලා අජපාල නුග වෘක්ෂයේ භාග්‍යවතුන් වහන්සේ භාවනාවෙන් වැඩ ඉන්නකො ඉස්සරහ පෙනී හිටියා මහා විශාල දැවැන්ත ඇතෙක්. භය හිතෙනවා දැක්ක ගමන්. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ දුටු පමණින්ම දැනගත්තා මේ අහවලා කියලා. ඔව්, බොහෝ කාලයක්

මුලුල්ලේ සසර සැරිසරද්දි නොයෙක් ලස්සන කැත වෙස් අරගෙන ඔබ මං ළගට ආවා තමයි, ඒයි පව්වු තැනැත්ත දැන් ඒවගෙන් පලක් නෑ. ඒයි මාරය, මේ කාරණයේදී ඔබ පැරදුනා. දැනගත්ත ගමන් මෙයා අතුරුදහන් වුනා. එහෙනම් ලස්සන කැත රූප මවාගෙන මෙච්චර කාලයක් සංසාරයේ මං ළඟට ආවෙ උඹ කියලා කිව්වා. එහෙනම් දැන් ඔයාලා ළඟට ලස්සන කැත රූප මවාගෙන එන අය ඉන්නවා, ඔවුන් කවුරුන්ද, කාගේ සේනාවේ අයද, කාට අයිති අයද කියලා හිතන්න. මේ ලෝකයේ ලස්සනම රූපත්, කැත රූපත් දෙකම මවන්න පුලුවන් උපකරණයක් අද ලෝකෙ තියෙනවා. චූටි උපකරණයක්. ඕනම ලස්සන රූපයක් ඒකෙන් මවනවා. කැත රූපයක් මවනවා. ලස්සන කැත ඕන එකක් ඒකෙන් මවන්න පුලුවන්. එහෙනම් මේක කාට අයිති එකක්ද, එතකොට අපි ආස කරන්නේ කාට අයිති දේකටද. අපි මේ විනාශ වුනේ කවුරු නිසාද. නුවණ තියෙනවා නම්, යෝනිසොමනසිකාරය තියෙනවා නම් කල්පනා කරන්න කාරණාවයි. මා හට අසන්නට ලැබුනේ මේ විදියට, තවත් විස්තරයක්. භාග්‍යවතුන් වහන්සේ සම්බුදු වෙලා මුල් කාලෙ අජපාල නුග වෘක්ෂය මුල වැඩ හිටියේ. බලන්න දැන් අද ගිහිල්ලා හෙට එනවා. එතකොට භාග්‍යවතුන් වහන්සේ රාත්‍රී අන්ධකාරෙ එළිමහනෙ වාඩිවෙලා හිටියා. වැහිපොදත් එක දෙක වැටෙනවා. එතකොට පාපී මාරයාට මෙහෙම හිතුනා. භාග්‍යවතුන් වහන්සේ භය කරවන්න ඕන, ඇඟේ මවිල් කෙලින් කරවන්න ඕන, ඉතින් බුදුරජාණන් වහන්සේ ඉදිරියට ඇවිල්ලා ලස්සන රූප කැත රූප ඇවිල්ලා විවිධ විප්‍රකාර සහ විචිත්‍ර රූප වලින් නොයෙක් බහුභූත මවන්න ගත්තා. භාග්‍යවතුන් වහන්සේ අඳුනගත්තා ඒක. ඔහු බොහෝ කාලයක් තිස්සේ සසරේ සැරිසරද්දි නොයෙක් ලස්සන කැත වෙස් අරගෙන උඹ මං ළඟට ආවා. ඒයි පව්වු තැනැත්ත දැන් ඒවගෙන් පලක් නෑ. මේ කාරණාවෙදි උඹ පැරදුනා. යමෙක් කයින් වචනයෙන් සිතින් සංවර වුනොත් ඒයි මාරය, ඒ කවුරුවත් ඔබව වසඟයට එන්නෙ නෑ. ඒ කවුරුවත් මාර බන්ධනයට අහුවෙන්නෙ නෑ. ඉතින් එයා අතුරුදහන් වුනා. කයෙන් වචනයෙන්, සිත කය වචනය සංවර කරගත්තොත් ඒ වගේ අය එහෙට ඇදෙන් නෑ කියනවා ඔහුගේ පැත්තට. එහෙනම් ඉන්ද්‍රිය අසංවරය නිසාමයි ඔහු ළඟට ඇදගෙන යන්නෙ අපි. බලන්න පුදුම සහගත දේවල්. එතකොට අද කාලෙ ගොඩාක් අය යෝගාවචරයො දැන් අපි ගත්තොත් එහෙම අපිට දැනගන්න ලැබිලා තියෙනවා දැන් සමහර වනාන්තර වල ගොඩාක් බණ භාවනාවෙන් ඉන්න හොඳ හාමුදුරුවරු ඉන්නවා. කාලයක් යනකොට පාත්‍රයයි සිවුරයි ගල්ලෙනේ දාලා ගෙදර යනවා. සමහර අය ගොඩක්

අයට පිස්සු හැදෙනවා. ඇයි මේ, සමහර විට මේ ලස්සන කැත රූප ඔවුන් හමුවට එනවා. බුදුවරු නිසා හඳුනාගත්තා. රහතුන් නිසා හඳුනාගත්තා. අන්‍ය සත්ත්වයෝ මුලා වෙනවා. භය වෙනවා. උණු ලේ වමනය කරනවා. සිත උමතු වෙනවා. චිත්ත වික්ෂිප්ත වෙනවා. මේ බලවේගයත් එක්ක. ඒකයි සංඝයාගේ ඇසුරේ වාසය කරන්න ඕන. ඒකයි ගුරු ඇසුරේ වාසය කරන්න ඕන. ඒකයි ධර්මය හොඳට ඉගෙන ගන්න ඕන. ධර්මය ඉගෙන ගන්නැතිව, ගුරු ඇසුරක් නැතිව, තමන්ගේ හිතුමතයට යන්න ගියාට පස්සෙ දහම් වැටහීමක් නැතිව ඊටපස්සෙ තමයි මේ හිත මුලාවෙන තැනට එන්නෙ. මේවා ඉගෙන ගන්න ඕන. දැන් මේවා ඉගෙන ගත්තා කියලා නිකං භය වෙලා නිකං භාවනාවක් කරනකොට සුටුස් ගාලා කොස්ස ගෙදර තියෙන කොස්ස එකපාරටම බිමවැටුනා කියලා එකපාරම තෝ ආවද මෙතෙන්ට කියලා එහෙම කෑකොස්සන් ගහන්න එපා, තේරුම් ගන්න මේවා. පහදින්න අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේට. මේ ලෝකයේ දිනිය නොහැකි වූ බලවේගය ජයගත් හෙයින්. විජිත සංගාම, අනන, ණය නැති මුණිඳුන්. සියල්ල ජයගත් මුණිඳුන්, ඒ ගැන සතුටු වෙන්න ඕන. අපේ ශාස්තෘන් වහන්සේ ගැන හිත පහදවා ගන්න. මේ සියලු විස්තර කියන්නෙ ඔබ ගැන හෝ ඔබගේ බණ භාවනාව ගැන කතාවක් නෙවෙයි මේ කියන්නෙ. මේ කියන්නෙ බුදුරජාණන් වහන්සේ ගැන. පහදින්න ඕන බුදුරජාණන් වහන්සේට. සරණ යන්න ඕන බුදුරජාණන් වහන්සේ ගැන. ඒකයි. දැන් ඊළඟ විස්තරය බලන්න. බුදුරජාණන් වහන්සේ ඒ කාලයේ පළවෙනි ධර්මය දේශනා කරලා බාරාණාසි ඉසිපතන මිගදායේ වැඩ හිටියා. භාග්‍යවතුන් වහන්සේ භික්ෂූණ් වහන්සේලා අමතා වදාළා. පින්වත් මහණෙනි, නුවණින් සිහි කිරීම නිසාත්, නුවණින් වීර්යය වැඩූ නිසාත්, මේ උත්තරීතර වූ විමුක්තියට පත්වෙන්න මට පුලුවන් වුනා. උත්තරීතර වූ විමුක්තිය අවබෝධ කරගන්නට පුලුවන් වුනා. ඒ නිසා පින්වත් මහණෙනි, ඔබත් නුවණින් කල්පනා කරලා, නුවණින් වීර්යය වඩලා මේ උත්තරීතර වූ විමුක්තියට පත්වෙන්න ඕන. උත්තරීතර වූ විමුක්තිය අවබෝධ කරන්නට ඕන. බුදුරජාණන් වහන්සේ වදාළා මේ බුදුරජාණන් වහන්සේ මේ උත්තරීතර වූ විමුක්තියට පත්වුනේ නුවණින් සිහි කිරීමත්, නුවණින් වීර්යය වැඩීමත් නිසා. එසේ නම් මේ මාර්ග ප්‍රතිපදාව වඩද්දි නුවණින් සිහි කිරීම කියන එක ඕන. ඒ වගේම වීර්යය කරන්න ඕන. නුවණින් වීර්යය කරනවා. එයාගේ වීර්යයට ප්‍රඥාව මුසු වී තිබෙන්නට ඕන. ඒ වගේම එයාගේ සිහි කිරීම, මනසිකාර කිරීමට ප්‍රඥාව මුසු වෙන්න ඕන. එතකොට තමයි විමුක්තිය

අවබෝධ කරන්න පුලුවන්නෙ. එහෙනම් කොයිතරම් මනසිකාර කලත්, කොයිතරම් වීර්යය කලත් එයට ප්‍රඥාව මුසු වී නැත්නම් අවබෝධ වෙන් නෑ නිවන් මාර්ගය. අවබෝධ වෙන් නෑ ඒ ආර්ය සත්‍යය. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාලා ඒ නිසා උත්තරීතර වූ විමුක්තියට පත්වෙන්න අවශ්‍ය නම් ඔබ නුවණින් කල්පනා කරන්නට ඕන. නුවණින් වීර්යය කරන්නට ඕන. ඒ වෙලාවේ මාරයා පෙනී සිටියා ඉස්සරහ. ශ්‍රමණය ඔබ මාරයාගේ උගුලට අහුවෙලා නේද ඉන්නෙ. දිව්‍ය වූ මාර වූ බන්ධන තියෙනවා. මිනිස් ලෝකයේ මාරබන්ධන තියෙනවා. ඒ මාර බන්ධන වලින් බැඳිලා ගිහින් නේද ඉන්නෙ. ශ්‍රමණය මගෙන් නම් ඔබට නිදහසක් ලැබෙන් නෑ කියලා කිව්වා මේ ඔයා බණ කිව්වට මේ නිදහස් වෙලා නෑ මට අහුවෙලා ඉන්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා මම මාර උගුලෙන් නිදහස් වෙච්චි කෙනෙක්. දිව්‍ය වූ මාර බන්ධන තියෙනවා, මිනිස් ලොවත් මාර බන්ධන තියෙනවා. ඒ සියලු මාර බන්ධන වලින් නිදහස් වෙලා ඉන්නෙ. ඒයි මාරය මේ කරුණේදී ඔබ පැරදුනා. මම නිදහස් වෙලා ඉන්නෙ කියලා කරුණු සහිතව වදාළා. අතුරුදහන් වෙලා ගියා. දැන් බලන්න කොච්චර පිටිපස්සෙන් පන්නනවද, මේ සම්බුදු වෙලා කෙලෙස් අත්හැරපු කෙනෙක් පිටිපස්සෙ. එතකොට කෙලෙස් තියෙන, සම්බුදු නොවුන, ධර්මය අවබෝධ නොකරපු අය කොයිතරම් අල්ලේ නටවනවද. ඒකයි. එතකොට මා හට අසන්නට ලැබුනේ මේ විදියටයි, ඊළඟ විස්තරය. භාග්‍යවතුන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, යම් දිව්‍ය බන්ධනයක් තියෙනවා, මිනිස් ලොවත් යම් බන්ධනයක් තියෙනවා. දැන් මේ දේශනාව වදාළේ බාරාණසි ඉසිපතනයේදී. ඒ සියලු උගුල් වලින් නිදහස් වුනා. පින්වත් මහණෙනි, ඔබත් දෙව්ලොව තියෙන, මිනිස් ලොව තියෙන සෑම උගුලකින්ම නිදහස්වුනා. පින්වත් මහණෙනි, චරථ භික්ඛවෙ චාරිකං බහුජන හිතාය බහුජන සුඛාය අත්ථා හිතාය සුඛාය දේවමනුස්සානං, දෙව් මිනිස්සුන්ට හිතසුව පිණිස, ලෝකානුකම්පාව පිණිස, ජනයාට සැප පිණිස, සිත සුව පිණිස චාරිකාවේ හැසිරෙන්න. මා එකෙන අගමිත්ත, එක මාර්ගයකින් දෙන්නෙක් යන්න එපා. පින්වත් මහණෙනි, ආදි කල්‍යාණං මජ්ජෙ කල්‍යාණං පරියොසාන කල්‍යාණං සාත්‍යං සභ්‍යන්ජනං කේවල පරිපුන්නං, මුල මැද අග පිරිසිදු වූ පැහැදිලි අර්ථ ඇති පැහැදිලි ප්‍රකාශන ඇති මුලු කේවල පරිපුන්නං පාරිසුද්ධං බ්‍රහ්මචරියං පකාසේති, මුළමනින්ම පිරිසිදු නිවන් මාර්ගය දේශනා කරන්න. සන්ති භික්ඛවේ අප්පරජක්ක ජාතික, පින්වත් මහණෙනි ඉන්නවා කෙලෙස් අඩු සත්ත්වයො, අස්සවණස්ස ධම්මස්ස පරියායන්ති, ඒ ඇත්තන්ට ධර්මය ඇහුන්

නැත්නම් පිරිහෙනවා. භවිස්සන්ති ධම්මස්ස අඤ්ඤාතාරො, ධර්මය ඇහුනොත් ඒ ඇත්තො අවබෝධ කරනවා. මමත් උරුවෙල් ජනපදයේ සේනානි ගමට වඩිනවා. ඒ නිසා, දැන් මේ විස්තරය කියන්නෙ එහෙනම් පළවෙනි ධර්ම දූත සේවයේ සංඝයා පිටත් කරනකොට නේද. පින්වත් මහණෙනි ධර්මය දේශනා කරන්න යන්න කියනකොට මෙන්න ඉස්සරහ හිටගත්ත කෙනා. කොහොමද, ඉස්සරහ හිටගත්තා. සෑම උගුලකටම අහුවුනා නේද. දෙව්ලොවත් උගුල් තියෙනවා. මනුලොවෙත් උගුල් තියෙනවා. ඒ මහා බන්ධනයට බැඳිලා ගියා නේද. ඒයි ශ්‍රමණය නුඹ නිදහස් වෙලා නෑ මගෙන් කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාලා සෑම උගුලකින්ම මං නිදහස් වුනා. දෙව්ලොව තියෙන බන්ධන, මනුලොව තියෙන බන්ධන ඒ මහා බන්ධන වලින් මං නිදහස් වුනා. ඒයි මාරය මේ කාරණයේදී නුඹ පැරදුනා. අතුරුදහන් වුනා. එතකොට බලන්න බණ කියන්න යන්න අන් අයට කියලා කියනකොට ඉස්සරහ පහළ වුනානෙ. එතකොට කාගෙවත් හිත් අල්ලන්න බෑ. හේතුව ඒ ඔක්කොම රහතන් වහන්සේලා. ඉතින් මේ ලෝකයේ ස්වභාවය බලන්න භාග්‍යවතුන් වහන්සේ ඒ සියල්ල මැඩගෙන ඒ උතුම් ධර්ම චක්‍රය ප්‍රවර්තනය කලා. අද කාලේ බුදුරජාණන් වහන්සේගේ ඒ උතුම් ධර්මය, බුදුරජාණන් වහන්සේගේ මේ ආනුභාවය ඒ රහතන් වහන්සේලාගේ ඒ ආනුභාවය එකදිගට අවුරුදු පන්සීයයි පැවතුනේ. එතනින් පස්සෙ ඉතින් බැටකෑම තමයි තියෙන්නෙ. ආයෙ මේ වගේ ඉස්සරහ පෙනී ඉඳලා කතා නෑ, කෙලින්ම තමන්ගේ සේවකයො මේ අතරට එවනවා. එවලා එක එක්කෙනාගෙ ඔළුව අවුල් කරලා එක එක විකාර කියවලා මේ ශාසනය නැත්තටම නැති කරලා දානවා. අද කාලෙ මෙහෙම ඉස්සරහට ඇවිල්ලා කතා කෙරිල්ලක් නෑ, කතා කරන්න උවමනාවකුත් නෑ, මෙහෙම පොඩි බැල්මකින් ඔක්කොම වෙනස් වෙලා ඉවරයි. බලන්න බොහොම අමාරුවෙන් චතුරාර්ය සත්‍යය කියලා ධර්මය යාන්තම් මිනිස්සු අතරට ගත්තා විතරයි එක එක දෘෂ්ටි ටිකක් ආපු හැටි, යක්කු ගැනයි, ඉතිහාසය ගැනයි, විජය කුමාරයා ගැනයි, අරක ගැනයි, මේක ගැනයි, ඔක්කොම ඇවිල්ලා ඒක වහපු හැටි. විමසන්න තියෙන්නෙ තමන් ගැන ආර්ය සත්‍යය. දැන් විමසන්නෙ ඉතිහාසය. හොඳට බලන්න විමසන්න තියෙන්නෙ තමන් ගැන. දැන් විමසන්නෙ මොකක්හරි යකෙක් ගැන. එක්කො ලංකාවේ මිනිස්සු හිටියද බුදු කෙනෙක් එන්න කලින්. හිටියා හෝ නැතා හෝ තමාට තමා තුල ජාති ජරා මරණ සොක පරිදෙව දුක්ඛ දොමනස්ස තියෙනවානෙ. ඒ නිසා තමන් තේරුම් ගන්න ඕන ධර්මය මේ මොහොතෙත් තමන්ට ගලපාගන්න එක, පටලැවෙන් නැතිව. තව

සිද්ධියක් වුනා. මේ වෙනකොට බුදුරජාණන් වහන්සේ රජගහනුවර වේළුවනයට වැඩම කරලා එළිමහනේ අඳුරේ උන්වහන්සේ වැඩ හිටියා, රාත්‍රී කාලයේ. වැහිපොදත් එක දෙක වැටුනා. එතකොට පවිටු මාරයාට කැමැත්තක් ඇතිවුනා, භාග්‍යවතුන් වහන්සේව භය කරවන්න ඕන, තැතිගන්වන්න ඕන, මවිල් කෙලින් කරවන්න ඕන කියලා. විශාල නාග රාජයෙකුගේ වේශයක් මවා ගත්තා. භාග්‍යවතුන් වහන්සේ ළඟට ගියා. උගේ ඇඟ තනි ගස් කඳකින් හදාපු ඔරුවක් වගේ. ඔහුගේ පෙනය රා පෙරන විශාල පෙරහන් කඩක් වගේ. ඔහුගේ ඇස් කොසොල් රටේ තියෙන විශාල පිඟන් වගේ. වැස්ස වහිනකොට විදුලි එළිය නික්මෙනවා නේද, ආන්න ඒ වගේ තමයි කටින් දිව එළියට දානකොට විදුලි එළි දෙකක් වගේ. කම්මලේ මයිනහම පිඹිනකොට මහා සද්දයක් එනවා නේද, ආන්න ඒ වගේ උඟ ආශ්වාස ප්‍රශ්වාස කරනකොට ඒ විදියේ සද්දයක් එනවා. මේ මොහොතේ භාග්‍යවතුන් වහන්සේ දුටුවා ඒ නාගයා. විශාල නාගයෙක්. දැනගත්තා දුටු පමණින්ම මේ අහවලා කියලා. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා සමහර උදවිය පාළු කුටි වල ඉන්නවා. පාළු කුටි වල සැතපෙනවා. ආන්න ඔහු මුණිවරයෙක්. තමාව සංවර කරගෙනයි ඉන්නෙ. ඔහු හැමදේටම ආසාව දුරු කරලා ඉන්නෙ. එබඳු අයට පාළු තැන් කදීමයි. ආසාව කෙලෙස් දුරු කරගත්ත අයට පාළු තැන් හරීම කදිමයි. භයානක වන සතුන් හරීයට ඉන්නවා. බිහිසුණු අරමුණු ඕනතරම් තියෙනවා. ලේ බොන මැසි මදුරුවො, සර්පයො ඕන තරම් ඉන්නවා. නමුත් ඒ පාළු කුටියකට වඩින මුණිවරයාගේ ලොම් ගහක්වත් හොලවන්න ඒ එක අරමුණකටවත් බෑ. වන සත්තු සතා සීපාවා වටකරගත්තත්, ලොම් ගහක් වත් හෙලවෙන්නෙ නෑ. මුණිවරුන්ට කෙලෙස් නැති නිසා. ආකාසය පුපුරලා ගියත්, පොළොව පුපුරලා ගියත් සකල සත්ත්ව ප්‍රජාවම භීතියෙන් වෙළී ගියත් පපුවට තියුණු උල් වලින් ඇන්නත් බුදුවරයන් වහන්සේලා කෙලෙස් වලින් රැකවරණයක් හොයන්නෑ. දැක්කද. මේ ටික කියපු ගමන් අතුරුදහන් වුනා. අහස පුපුරා ගියත් පොළොව පුපුරා ගියත් සකල සත්ත්ව ප්‍රජාවම භීතියෙන් වෙළී ගියත් පපුවට තියුණු උල් වලින් ඇන්නත් බුදුරජාණන් වහන්සේලා කෙලෙස් වලින් රැකවරණයක් හොයන් නෑ. අයියෝ අම්මෝ ඇයි මට මෙහෙම වුනේ, මාව බේරගන්න කවුරුත් නැද්දෝ, අනේ එන්න, ඒ වචනයක්වත් ඒ සිතිවිල්ලක්වත් මුවෙන් පිටවෙන් නෑ. කෙඳිරිලි පිටවෙන් නෑ. උන්වහන්සේලා අනිත්‍ය වී යන මේ පඤ්චුපාදානස්කන්ධය සමුදයවයම දකිනවා. උන්වහන්සේලා ආශ්වාදය ආදීනවය නිස්සරණය සියල්ල අවබෝධ කල

උත්තමයො. පුදුම සහගතයි. තමන් නිතර භය වෙන කෙනෙක් නම්, තමන් නිතර සැලෙන දැවෙන කෙනෙක් නම් සත්‍ය ක්‍රියා කරන්න වටිනවානේ මේ බුදුවරුන්ගේ අසාමාන්‍ය ගුණ කඳ. ඒ මාගේ භාග්‍යවත් වූ අර්හත් වූ මම සරණ ගිය මගේම බුදුරජාණන් වහන්සේ ආකාසය පුපුරා ගියත්, පොළොව පුපුරා ගියත්, සකල සත්ත්ව ප්‍රජාවම භීතියෙන් වෙළී ගියත්, පපුවට තියුණු උල් වලින් ඇන්නත් ඒ උතුම් මාගේ ශාස්තෘන් වහන්සේ කෙලෙස් වලින් රැකවරණයක් සොයන්නේ නැත. ඒ සත්‍යයි, ඒ සත්‍යානුභාවයෙන් මටද මාගේ සිතේ තියෙන භය තැතිගැනීම භීති චංචලතා දුරු කරගන්න ආශිර්වාද ලැබේවා. එහෙම නේද බුදුගුණ හිතලා ආශිර්වාද ගන්නට ඕන. ඒවා නේද හිතලා ආශිර්වාද ගන්න ඕන. ඒකාන්තයෙන් බුදුරජාණන් වහන්සේ වීතරාගී, වීතදෝෂී, වීතමෝහී. අභීර්වච්ඡම්පි අනුප්‍රාසි සපලායිනි, භය තැතිගැනීම් නෑ, රාග, ද්වේෂ, මෝහ දුරු කරලා ඉන්නෙ. ලොමු දැහැගැන්වෙන් නෑ, පලායන්නෙ නෑ, තැතිගැන්වෙන් නෑ. තථාගතො භික්ඛවෙ අරහං සම්මා සම්බුද්ධො. තථාගතයන් වහන්සේ රහතන් වහන්සේ නමක්. සම්මා සම්බුදු කෙනෙක්. අපිට තියෙන්නේ එහෙනම් බුදුරජාණන් වහන්සේගේ රැකවරණයම විතරයි. මේ ලෝකයේ කිසිම ශ්‍රාවකයෙකුට, කිසිම ආගමක් අදහන කෙනෙකුට තමන්ගේ ශාස්තෘන් වහන්සේ ගැන ඔය මා කියූ ප්‍රකාශය කරන්න බෑ. ඔවුන් කෙලෙස් සහිතයි, තැතිගැනීම් සහිතයි, අවීතරාගෝ, අවීතදෝෂෝ, අවීතමෝහෝ. ඒ නිසා බුදුරජාණන් වහන්සේලා ඒකාන්තයෙන් ආශ්චර්‍ය්‍යයි. දිවිහිමියෙන් සරණ යන්න ඕන. මියගියත් කම්නැත පින්වතුනි බුදුරජාණන් වහන්සේ ගැන සිහි කරමින්. මියගියත් කම් නැත බුදුරජාණන් වහන්සේ ගැන කියමින්. මියගියත් කම්නැත බුදුරජාණන් වහන්සේගේ සරණ ලබමින්. මියගියත් කම්නැත බුදුරජාණන් වහන්සේගේ පිහිටේ සැනසෙමින්. ඉතින් අපි බලමු කොහොමද බුදුරජාණන් වහන්සේට ආපු තවත් කරදර කම්කටොළු කියලා. රජගහනුවර වේළුවනාරාමයේ බුදුරජාණන් වහන්සේ වැඩ හිටියේ. එදා රාත්‍රියේ බොහෝ වේලාවක් එළිමහනේ සක්මන් කළ බුදුරජාණන් වහන්සේ රැය පහන් වෙනකොට සිරිපා සෝදාගෙන කුටියට වැඩම කලා. දකුණු ඇලයට හාන්සි වෙලා දකුණු පය මත වම් පාදය ටිකක් මෑත් කරලා අවදිවෙන වෙලාව සිහි කරගෙන හොඳට සිහිනුවණින් සිංහසෙය්‍යාවෙන් සැතපුනා. මෙන්න පන්සාලිස් වසරටම බුදුරජාණන් වහන්සේ සැතපුන විදිය. එකම එක දවසක්වත් මේ ක්‍රමයෙන් බැහැරව සැතපිලා නෑ. කොහොමද, දකුණු ඇලයට හාන්සි වෙනවා. දකුණු පය මත වම් පාදය ටිකක් මෑත් කරලා තියනවා. අවදි

වෙන වේලාව සිහි කරනවා. හොඳ සිහිනුවණින් සිංහසෙය්‍යාවෙන් සිංහයෙක් වගේ සැතපෙනවා. කවදාවත්ම, දැන් උඩුබැලි අතට සැතපිලා නෑ බුදුරජාණන් වහන්සේ පන්සාලිස් වසටම. අනිත් පැත්ත හැරිලා සැතපෙන තැනට මැදට බඩ තියාගෙන වගේ. ඒ වගේ කාම සෙය්‍යාවෙන් සැතපිලා නෑ එකම එක දවසක්වත් පන්සාලිස් වසරටම. වම් ඇලයට සැතපිලා නෑ, දකුණු ඇලයටමයි සැතපිලා තියෙන්නෙ. පුදුම සහගතයි. ඉතින් යම් විදියකටද සැතපෙන්නෙ, අළුයම අවදි වෙන්නෙත් ඒ විදියටමයි, සිවුරේ පොටක්වත් සෙලවිලා නෑ. අපි සරණ ගිය අපේ බුදුරජාණන් වහන්සේගේ සැතපෙන ඉරියව්වක් ඇත්ද, ඒ ඉරියව්වත් ආශ්චර්‍ය්‍යයයි අද්භූතයි ඒ සැතපෙන ඉරියව්ව පවා. ඉතින් එහෙම සැතපුනා බුදුරජාණන් වහන්සේ ගොඩාක් වෙලා භාවනා කලා. ඒ සැතපෙනකොටම ඔන්න අරයා ආවා. ඇවිල්ලා කියනවා ආ නිදාගන්නා නේද, මොකද නිදාගන්නෙ. මොකද නිකං මැරුණා වගේ ඉන්නෙ. මට පාළු කුටියක් හම්බුනා කියලාද නිදාගන්නෙ. දැන් ඔය ඉර උදවෙනකල්ම නිදාගන්න නේද කල්පනාව. බුදුරජාණන් වහන්සේ වදාළා සසරේ බැඳුන දැල තමයි තෘෂ්ණාව, තණ්හාව. ඉසත්තිකා කියන්නෙත් තණ්හාවටමයි. ආන්න ඒ තණ්හාව යම් කෙනෙක් තුළ කොයිම කොයි ආකාරයෙන්වත් හටගන්නෙ නැත්නම් ඒ සියලු කෙලෙස් නැති කරලා දාපු බුදුරජාණන් වහන්සේ නමක් සැනසිල්ලේ සැතපෙන කොට ඒයි මාරය උඹට ඇති අමාරුව මොකක්ද, ඒ වෙලාවෙම අතුරුදහන් වුනා. බුදුරජාණන් වහන්සේ මාව දැනගත්තා නෙව කියලා. බලන්න කොයිතරම් නම් විරුද්ධකමක් ඇත්ද, සැනසිල්ලෙ සැතපෙනවාට කැමැති නැනෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ තවත් කාලෙක සැවැත්නුවර වැඩ ඉන්නවා, ජේතවනාරාමෙ. ඊටපස්සෙ ඒ ඉදිරියට ආවා. කෙනාගෙ ඉදිරියට ආවා. එයා කියනවා, දරුවන් ඉන්න කෙනා ඒ දරුවො නිසාමයි සතුටු වෙන්නෙ. හරකාබාන තියෙනකෙනා ඒ නිසාමයි සතුටු වෙන්නෙ. කෙලෙස් කියන්නෙ මිනිස්සුන්ට සතුට ඇති කරන දෙයක්. යමෙකුට කෙලෙස් නැත්නම් එයාට සතුටක් නෑ. එතකොට එයා කියනවා දරුවො ඉන්න හරකා බාන ඉන්න – හරකාබාන කියලා කියන්නෙ මෙතන ධනධාන්‍ය, ඒ කියන්නෙ ඒ කාලෙ හරකාබානනෙ වස්තුව. අද කාලෙ යාන වාහන වතුපිටි ඉඩකඩම් ඉතින් ඒවත් එක්කයි සතුට. කෙලෙස් කියලා කියන්නෙ මිනිස්සුන්ට සතුට ඇති කරන දෙයක්. යමෙක් ළඟ කෙලෙස් නැත්නම් එයාට සතුටක් නෑ. එතකොට ඔය කාගෙ අදහසද, ඔය තමයි මාරයාගෙ අදහස. දැන් අපිටම ඇවිල්ලා අපිත් එක්ක කතා කරලා තියෙනවා සමහර ඇත්තො, ඒ ඇත්තො කියලා තියෙනවා

ස්වාමීනී රාගය නැතිවුනොත් එහෙම දැන් මිනිස්සුන්ට සතුටක් නෑනෙ. මිනිස්සුන්ට ආසාව නැත්නම් මිනිස්සුන්ට සතුටක් නෑනෙ. එතකොට මේ කෙලෙස් නැත්නම් මනුස්සයින්ට සතුටක් නෑ කියන අදහස මිනිස්සු තුළින් කියවෙනවානෙ. එහෙමනම් මිනිස්සු කවුරුන්ගේ අදහස් තුළද ඉන්නෙ කියලා බලන්න. ඊළඟට අපේ ජීවිතේ තියෙන එකම සතුට අපේ දරුවො ටික. එතකොට බලන්න කාගේ අදහස් ද කියලා ඒවා. යාන වාහන වලින් තමයි අපිට සතුට තියෙන්නෙ. කාගෙ අදහස් ද කියලා බලන්න. බුදුරජාණන් වහන්සේ මෙසේ වදාළා. දරුවන් ඉන්න කෙනා ඒ දරුවො නිසාම ශෝක කරනවා, ඇත්තද නැද්ද කියලා බලන්න. හරකා බාන තියෙන කෙනා ඒ නිසාම ශෝක වෙනවා. කෙලෙස් කියලා කියන්නෙ මිනිස්සුන්ට ශෝකය හදන දේටයි. යමෙකුට කෙලෙස් නැත්නම් එයාට ශෝකයක් නෑ. එතකොට ඒ පව්ටු මාරයා අතුරුදහන් වෙලා ගියා. බුදුරජාණන් වහන්සේ මාව අඳුරගත්තා නෙව කියලා. එතකොට බලන්න මිනිස් සමාජය තුළ තියෙන අදහස් කාට අයිති අදහස් ද. තව බලමු මොකක්ද වෙලා තියෙන්නෙ ඒ කාලෙ. ඒ කාලෙ බුදුරජාණන් වහන්සේ රජගහනුවර වේලුවනයේ වැඩඉන්න කොට බුදුරජාණන් වහන්සේ සංඝයාට වදාළා පින්වත් මහණෙනි, මේක හරී ලස්සන කතාවක්. පින්වත් මහණෙනි, මිනිස්සුන්ගේ මේ ආයුෂ ඉතාමත් ස්වල්පයි. පරලොව යන්න සිද්ධ වෙනවා. කුසල් දහම් කරන්න ඕන නිවන් මගේ හැසිරෙන්න ඕන. උපන් කෙනෙකුට නොමැරී ඉන්න බෑ. පින්වත් මහණෙනි, කවුරුහරි ගොඩාක් කල් ජීවත් වෙනවා නම් වැඩිම වුනොත් ඒ තැනැත්තා අවුරුදු සීයක් හරි ඊට චුට්ටක් වැඩියෙන් හරි ජීවත් වේවි. දැන් මනුස්සයන්ගේ ආයුෂ පොඩ්ඩයි. ඊළඟට පරලොව යන්න සිද්ධ වෙනවා. පහායෝ ගමනීයං කත්තබ්බං කුසලං චරිතබ්බං බ්‍රහ්මචරියං නත්ථි ජාතස්ස අමරණං. කුසල් කරන්න ඕන, නිවන් මාර්ගයේ හැසිරෙන්න ඕන. නොමැරී ඉන්න බෑ උපන් කෙනෙකුට නම්. මනුස්සයෙක් ජීවත් වුනත් අවුරුදු සීයයි, එහෙම නැත්නම් එකසිය විස්සයි. උපරිම. ඒ නිසා මනුස්සයින්ගේ ආයුෂ අඩුයි. ඒ නිසා මේ නිවන් මාර්ගයේ හැසිරෙන්න කුසල් කරන්න මනුස්සයො අප්‍රමාදී වෙන්න ඕන. එතකොට අරයා ඉස්සරහා හිටියා. මනුස්සයන්ට දීර්ඝායුෂ තියෙනවා, ඔන්න එයා කියනවා. දීර්ඝායුෂ තියෙනවා. ඒ නිසා සත්පුරුෂයින් ඒ ආයුෂ හෙලාදකින් නෑ, මව් තනේ එල්ලීගෙන කිරිබොන දරුවෙක් වගේ මේ මනුස්ස ජීවිතේ ගැන ආසා කරන්න ඕන. මරණය කියන එක ආපහු එන් නෑ, දැන් මිනිස්සු කියන්නෙ මැරෙනවා නම් එක පාරයි මැරෙන්නෙ. එහෙම නේද තියෙන්නෙ, දැන් ඒ කතාවනෙ කියන්නෙ. එකපාරනෙ මැරෙන්නෙ

කියලා මිනිස්සු කියන්නෙ. මේ මරණය ආපහු එන් නෑ, කාගෙ අදහස් ද කියලා බලන්න. ඊට පස්සෙ සමහර අය කියන්නෙ මොකද උඹලා මේ මැරෙන්න කිට්ටු වෙලා වගේ සිල් ගන්නෙ, ඒවා පස්සෙ කරන්න බැරියෑ. ඉස්සෙල්ලා කරන ඒවා ඉස්සෙල්ලා කරපල්ලා. ඔය සමාජයෙ කියන්නෙ. ඇයි මොකද මරණය පේනවද කියලා අහනවා සිල් ගන්නකොට. එතකොට හිතන්නෙ මරණයක් ගැන කිසීම සංඥාවක්, කල්පනාවක් මනුස්සයාට එහෙම නෑ. කාගෙ අදහස් ද තියෙන්නෙ. මිනිස්සු නොමැරී ඉන්නවා වගේනෙ ඉන්නෙ. මිනිස්සු ඉන්නෙ කල්පයක් ජීවත් වෙනවා වගේ. ඉඩකඩම් වලට රණ්ඩු වෙවී ගේ කාමරේට රණ්ඩු වෙවී යතුරට රණ්ඩු වෙවී වාහන වලට රණ්ඩු වෙවී හදි හූනියම් කරගනිමින් කොහොමද මිනිස්සු ඉන්න හැටි. මිනිස්සු හිතන් ඉන්නෙ කල්පයක් ජීවත් වෙනවා කියලා. අද හෙට මැරුණොත්, මේ පාප ගොඩ කරගහගෙන යන්න ඕන නේද. මේ පොළොව අපි අරන් යනවද, ඉඩකඩම් අරන් යනවද, නමුත් මිනිස්සුන්ට හිතෙන් නෑ. ඒ මිනිස්සු ලෝක සත්ත්වයා ඉන්නෙ ඔහුගේ අතේ. අපේ බුදුරජාණන් වහන්සේ කුමක් වදාළාද කියලා බලමු. මිනිස්සුන්ට තියෙන්නෙ ස්වල්ප ආයුෂයක්. සත්පුරුෂයෝ ඒ ආයුෂය හෙලා දකිනවා. ආර්ය සත්‍යය අවබෝධ කිරීමට කටයුතු කළ යුත්තේ හිස ගිනි ගත්තු කෙනෙක් වගේ හැසිරිලයි, මරණය නම් නැවිත් ඉන්නෙ නෑ. එතකොට මාරයා අතුරුදහන් වුනා. එතකොට සත්පුරුෂයො ආයුෂයට ගරහනවා. ආයුෂයට ගරහනවා කියන්නෙ උඹලා තව කීදොහක්ද ජීවත් වෙන්නෙ. කල්පයක් ඉන්න හිතාගෙනද ආවෙ. ආයුෂ ඉක්මණට ගෙවෙනවා නේද. මරණය ඉක්මණට ළඟා වෙනවා නේද කියලා කියනවා. අර ආයුෂය වර්ණනා කරන් නෑ. ඒක තමයි සත්පුරුෂයො කරන දේවල්. ඇත්තටම සත්පුරුෂයො අවවාද කරන්නෙ තමන් සත්පුරුෂයෙක් නම් තමන් කටයුතු කරන්නෙ හිස ගිනිගත්තු කෙනෙක් ඒ ගින්න නිවාගන්න හිසගිනි ගත්තු කෙනෙක් හැසිරිලා. හිස ගිනිගත්තු කෙනෙක් ඒක නිවාගන්න මහන්සි වෙන්නෙ, ආන්න ඒවගේ ධර්මයේ හැසිරෙන්නයි මහන්සි වෙන්නෙ. මරණය නැවිත් තියෙන් නෑ, කොයිමොහොතෙ හරි මරණය එනවා. අද හරි හෙට හරි අනිද්දා හරි මොන විදියකින් හරි. කොයි කොයි, පුංචි ඇයො මැරෙනවා. තරුණ ළමයි මැරෙනවා. එක එක වයස් වල මැරෙනවා. අලියා ගහලා මැරෙනවා. වහ කාලා මැරෙනවා. වෙඩි වැදිලා මැරෙනවා. වෙඩි තියලා මැරෙනවා. පාතාලෙ නිසා මැරෙනවා. කොරෝනා නිසා මැරෙනවා. ප්‍රෙෂර් නිසා මැරෙනවා, වකුගඩු සවුත්තු වෙලා මැරෙනවා. අට අනූවක් රෝග, නව අනූවක් ව්‍යාධි, දෙසිය තුනක් අන්තරා වලින් මැරෙනවා. එතකොට කොයි කොයි

ආකාර වලින් තමන්ගේ ජීවිත වලට මරණය පැමිණෙනවාද, මේ ගෙදරින් අඩියක් එළියට තිබ්බට පස්සෙ ආයෙ එයි කියලා විශ්වාසයක් තියෙනවාද. හුස්ම ගත්ත ටික හෙළාගන්න බැරිවුනොත් මැරෙනවානෙ. දැන් මරණය හරියට කල්පනා කරන්න ඕන. හරියට කල්පනා කරන්න ඕන. මරණය කියන එක අපි නිතර කල්පනා කලේ නැත්නම් ගොඩාක් තැතිගැනීම් උපදිනවා. මගෙන් කෙනෙක් ඇහුවා, මම හුදකලාවේ ඉන්න අමාරුයි ඔය පාළු තැන්වල ඉන්න අමාරුයි, මං අනාගතේ ආරණ්‍යයික හාමුදුරු නමක් මගෙන් ඇහුවෙ. අනාගතේ කොහෙහරි කැලේකට ගිහිල්ලා ඉන්න වුනොත් කොහොම ඉන්නද කියලා මං කල්පනා කරන්නෙ කියලා මාත් එක්ක කිව්වා. මං කිව්වා හාමුදුරුවනේ ඔබ වහන්සේ හිතන විදිය වැරදියිනෙ. බුදුරජාණන් වහන්සේ අනාගතේ මං ආරණ්‍යයක කොයි විදියට ද ඉන්නේ කියලා කල්පනා කරන්න කිව්වෙ මරණය කොයි මොහොතෙ සිද්ධ වෙයිද දන්නෑ කියලානෙ. ස්වාමීනී මරණය කොයි මොහොතෙ සිද්ධවෙයිද දන්නෑ කියලා තමයි බුදුරජාණන් වහන්සේ කල්පනා කරන්න කිව්වෙ. මං කිව්වා අන්න ඒ විදියට හිතන්න. මොකද ඔබවහන්සේ අනාගතේ ප්ලෑන් කරන්නෙ හැම මොහොතකම අනාගතේ පැමිණේවි කියන අදහසින් මිසක්කා, මරණය පැමිණේවි කියන අදහසින් නෙවෙයි. ඊළඟ මොහොතේ මට මරණය පැමිණෙන්න පුලුවන් කියන මරණ සංඥාව ඔබවහන්සේගේ හිතේ තියෙනවා නම් පාළු වන සෙනසුනක කවදා මං කොහෙම ඉන්නකොට බයවෙයිද කියලා එහෙම හිතන් නෑ, ඒ සිතුවිලි එන්නෙ නෑ. දැක්කද මරණය සිහි නොකිරීම. ඒ නිසා මරණය සිහිවෙන්න ඕන. පැවිදි වෙන ළමයින්ටත් එහෙමයි. දැන් සමහර අය ගොඩාක් අය මහණ වෙන්න ආසාවක් තියෙනවා තරුණ ළමයිට. එහෙම තිබ්බට බයයි, මට සිල් රැකගන්න පුලුවන් වෙයිද, මට තනියෙන් ඉන්න පුලුවන් වෙයිද, මට සූත්‍ර කටපාඩම් කරගන්න පුලුවන් වෙයිද, මට පිරිත් කියන්න පුලුවන් වෙයිද, මට භාවනා කරන්න පුලුවන් වෙයිද කියලා අනාගතේ ප්ලෑන් කරනවා. හෙට මට මරණය පැමිණෙන්න පුලුවන්. අද හවස මට මරණය පැමිණෙන්න පුලුවන්. මේ මොහොතේ මට මරණය පැමිණෙන්න පුලුවන් කියලා මරණය සිහි කරනවා නම් ඔහු අනාගතේට භය වෙන් නෑ. භය වෙන්නට ඔහුට අනාගතයක් පේන් නෑ. අනිත් එක තමයි වර්තමානයට මුහුණ දීම තමයි ඔහුට අනාගතය උපද්දවන්නෙ. නූපන් අනාගතයක් වෙනුවෙන් වර්තමානයේ භය වෙන එක තරම් තවත් මුලාවක් තියෙයි ද, ඒ නිසා වර්තමානයට මුහුණ දෙන්න ඕන. දැන් ඉන්න ඕන. හෙට අපි බලමු හෙට මොකක්ද වෙන්නෙ කියලා. හෙට කොහොමද

සිල් රකින්නෙ, හෙට කොහොමද භාවනා කරන්නෙ. හෙට කොහොමද තනියෙන් ඉන්නෙ, හෙට කොහොමද පිරිත් කියන්නෙ, හෙට කොහොමද සතිපට්ඨානය වඩන්නෙ කියලා හෙට බලමු. අද මුහුණ දෙමු, අද මේ මොහොතට. ඒ නිසා ඒ විදියට කල්පනා කරන්න, මොකද මරණය කියන එක කොයි මොහොතේ කොයි වෙලාවේ කෙනෙකුට එයිද දන්නෙ නෑ. අපි අනාගතේ ගැන පසුතැවි තැවී මරණයට පත්වීමට අවශ්‍ය නෑ. ඒ නිසා බලන්න මේ ලෝකෙ සත්ත්වයන්ගේ මනස ක්‍රියාත්මක කරන්නෙ, මනස අල්ලන්නෙ ලෝකෙ යම්කිසි බලවේගයක් විසින්. බුදුරජාණන් වහන්සේගේ අදහස වෙනස්. බුදුරජාණන් වහන්සේ ඒ දවස්වල කලන්දක නිවාපේ වේළුවනයේ වැඩ ඉන්නකොට භික්ෂූන් අමතා වදාළා, යම් දහම් පරියායක් දේශනා කරන්නට. පින්වත් මහණෙනි, මේ මනුෂ්‍යයින්ට තියෙන ආයුෂය ස්වල්පයි. පරලොව යන්න සිද්ධ වෙනවා. පහයොගමනීයං. කුසල් දහම් කරන්න ඕන, කත්තබ්බං කුසලං. නිවන් මාර්ගයේ හැසිරෙන්න ඕන, චරිතබ්බං බ්‍රහ්මචරියං. උපන් කෙනෙකුට නොමැරී සිටීමක් නෑ, නත්ථි ජාතස්ස අමරණං. පින්වත් මහණෙනි, මිනිස්සු ජීවත් වෙනවා කියලා ජීවත් වුනත්, එක්කො අවුරුදු සීයක්, නැත්නම් සීයට පොඩ්ඩක් වැඩියෙන්. ඒ නිසා ධර්මයේ හැසිරෙන්නට ඕන. ආයුෂ පොඩ්ඩයි කියලා කියනකොට ආයෙත් පෙනී හිටියා. එකපාරකින් නවතිනවා කියලා එකක් නෑ. මෙයා කියනවා, නෑ රෑ දාවල් එහෙම ගෙවෙන්නෙ නෑ. ජීවිතේ නැතිවෙලා යන්නෙ නෑ. කරත්තෙක ඒරියා කඳ අනුව කැරකෙන නිම් වළල්ල වගේ මිනිස්සුන්ගේ ආයුෂයටම තමයි ජීවිතය තියෙන්නෙ. භාග්‍යවතුන් වහන්සේ වදාළා රෑ දාවල් දෙකම ගෙවිලා යනවා. ජීවිතේ නිරුද්ධ වෙලා යනවා. චූටි අතු ගංඟාවල දියපාරක් වගේ මිනිස්සුන්ගේ ආයුෂ ක්ෂය වෙලා යනවා. එතකොට මාරයා එතනින් නොපෙනී ගියා. එතකොට මෙතනත් බලන්න අදහස්. බුදුරජාණන් වහන්සේගේ අදහස රෑ දහවල් වේගයෙන් ගෙවී යනවා. චූටී වතුර පාරක් ඈතට යනකොට අඩු වෙවී අඩු වෙවී යන්නෙ. අතු ගංඟානෙ. චූටි වතුර පාරක් යනකොට වැල්ලෙන් වැල්ලට කුඹුරෙන් කුඹුරට ගිහිල්ලා වතුර අඩු වෙනවා. මහා ගංඟාවට එනකොට තමයි අතු ගංඟාවලින් මහා ගංඟාවට එකතු වෙලා වතුර වැඩි වෙවී යන්නෙ. අතු ගංඟාවක වෙන්නෙ ඒක මිනිස්සු අතරටයි යන්නෙ, ජනපද අතරටයි යන්නෙ, අඩුවෙවී අඩු වෙවී යනවා. එතකොට ඒ වගේ අපේ ජීවිත. අපි දැන් ඔබට අවුරුදු දහයයි නම්, පහළොවයි නම්, විස්සයි නම්, ඔබට අවුරුදු තිහයි නම්, හතළිහයි නම්, පනහයි නම්, ගංඟාවේ වතුර අඩුවෙවී යන්නෙ, තව චුට්ටයි. තව කොච්චර දුරක්ද දන්නෙ නෑ.

එහෙම තමයි ආයුෂ ගැන කල්පනා කරන්න තියෙන්නෙ. දැන් බලන්න සමහර මිනිස්සු කියනවා ගෙවෙන් නෑනෙ අප්පා දවස. මේ රෑ ගෙවෙන් නෑනෙ. දවල් ගෙවෙන් නෑනෙ. ඒ කියන්නෙ රෑ දිගායි. දවස දිගායි. කරන්න දේවල් නෑ. එතකොට රෑ දවල් ගෙවෙන් නෑ වගේ එයාලා ඉන්නවා. ඒ ඔක්කොම අදහස් බුදුවරුන්ගේ අදහස් නෙවෙයි. ඊටපස්සෙ ජීවිතේ එහෙම නැතිවෙන් නෑ, වැනසෙන් නෑ, මෙයා එහෙම කල්පනා කරන්නෙ. එතකොට මේ අපේ ආයුෂත් තියෙනවා, ඒක කොයිකාලෙක හරි ගෙවෙයි, එයා හිතාගෙන ඉන්නෙ. සත්පුරුෂයො එහෙම කල්පනා කරන් නෑ, ජීවිතේ හිමින් ගෙවීගෙන යනවා. අපරාදී අද දවසක් ගෙවී ගියා. රාත්‍රියක් ගෙවී ගියා, දවසක් ගෙවී ගියා. මනුස්ස ජීවිතේ ආයුෂ ගෙවී ගියා. කල්පනා කරනවා. එතකොට දැන් තේරෙනවා නේද, සත්පුරුෂයෙක් වුනාම නිතර මරණ සතිය සිහි කරමින් වාසය කරනවා. සත්පුරුෂයා මරණ සතිය සිහි කරමින් වාසය කරනවා. ඊටපස්සෙ ඔය විදියට තමයි දැන් බලන්න බුදුරජාණන් වහන්සේ දැන් මේ කරුණු කාරණා අපි ටික ටික තේරුම් ගන්නකොට බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධත්වයට පත්වීම පිණිස අභිනිෂ්ක්‍රමණය කලාද, ඒ අභිනිෂ්ක්‍රමණය කරනකොට දොරටුවෙන් එළියට එනකොටම ආකාසයේ පෙනී ඉඳලා කිව්වා, සිද්ධාර්ථ යන්න එපා, සිද්ධාර්ථයෙනි යන්න එපා. තව දින හතක් ගිය තැන ඔබට චක්‍ර ලක්ෂණය පහළවෙනවා. චක්‍රරත්නය, ඔබ සක්විති රජ වෙනවා යන්න එපා කියලා කිව්වා. එතකොට එදා ඉඳලා තියන පියවරක් පාසා පිටිපස්සෙන් ආවා. පිටිපස්සෙන් ඇවිල්ලා උග්‍ර, උග්‍ර දුෂ්කර ක්‍රියා කරනකොට පෙනී ඉඳලා කිව්වා උඹට තව ජීවත් වෙන්න තියෙන්නෙ දශමෙනුත් දශමයයි, මැරෙන්න නවසිය අනූනවයක් අවස්ථා තියෙනවා. ඒයි සිද්ධාර්ථ ඔය දුෂ්කර ක්‍රියාව අතෑරපං. වීර්යය අතෑරපං, උත්සාහය අතෑරපං, පිනක් කරගෙන හිටපං. එතකොට කිව්වා, ඒයි උඹ අඳුරගත්තෙ නෑ කියලා හිතන්න එපා. මම දන්නවා සේනා දහයක් සහිතව උඹ ඉස්සරහට එන්නෙ. ඒ තමයි කාමාතේ පඨමස්සෙන, කාමය දිදී සේනාව දානවා කිව්වා මේ මිනිස්සු අතරට, ලෝක සත්ත්වයාට. දුතියෙ ආරතිවුච්ඡති, කුසල් දහම් වලට පසුදාන සිත් දිදී සේනාව දානවා කිව්වා. තතියා කුප්පිපාසෙ, බඩගින්නෙන් පිපාසෙන් පෙල පෙලා සේනාව දානවා කිව්වා මිනිස්සු හසුරුවන්න. ඒ බඩගින්න පිපාසය තුන්වෙනි සේනාව. ඊළඟට චතුත්තෙ තණ්හාපවුච්ඡති. හතරවෙනි සේනාව තෘෂ්ණාව. පංචමිත්තේන නිද්දන්තෙ, නිදිමත තමයි පස්වෙනි සේනාව. ඡත්තේ භීරුපවුච්ඡති, භය තැති ගැනීම් හයවෙනි සේනාව. සත්තමේ විචිකිච්ඡාතෙ, සැකය තමයි හත්වෙනි

සේනාව. මක්කෝ තම්බෝතේ අට්ඨමි, ගුණමකු බවයි දැඩි බවයි අටවෙනි සේනාව. ලාභෝසිලෝකේ සක්කාරෝ මිච්ඡා ලද්දොච සො යසො, ලාභ සත්කාර කීර්ති ප්‍රශංසා වලට සිත ඇදී ඇදී යන ගතිය නව වන සේනාව. අත්තුක්කංස පරවම්බනී තමයි දස වෙනි සේනාව. ඒවා දන්නවා කිව්වා. මගේ නිවන් දකින්න තියෙන උවමනාව මගේ තියෙන වීර්යය පුලුවන්නම් මේ සුළඟ මගේ ඇඟෙන් හමාගෙන ගියොත් ඒ මගේ හිතේ තියෙන වීර්යය සුළඟට මුහුවෙනවා නම් අර නේරංජනා නදියේ වතුර සිඳිලා යයි කිව්වා. ඒ නිසා පැරදිලා ජීවත් වෙනවාට වැඩිය උත්සාහ කරලා මියයෑම වටිනවා කිව්වා. ඒ විදියට අභියෝග කලා බෝධිසත්ත්ව කාලෙ. සම්මා සම්බුද්ධත්වයට පත්වෙනකොට දස මාර සේනාව සමඟ පෙනී හිටියා. ඒ ඔක්කොම සත්‍යානුභාවයෙන් ජයගත්තා. දිනන්නට නොහැකි වූ දුෂ්කර වූ ජයගත නොහැකි වූ සේනාව මැඩපැවැත්වූවා. ජයගත්තා. ඒ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ දිවි හිමියෙන් මම සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. කෙලෙස් යුද්ධය ජයගන්න නම් අපිටත් මේ පින ඒකාන්තයෙන්ම හේතුවාසනා වේවා.

ඉතින් අද දවසේ කොරියාවේ සේවයේ නියුතු පින්වත් වීරසේකර බමුණු මුදියන්සේලාගේ සංක මහත්මයා සහ සුභාෂ් සාරංග මහත්මයා මේ පින සිද්ධ කරගන්නෙ, සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම මියපරලොව ගිය සියලුම ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා. අපගේ පරම පූජනීය ගුරු දෙවිඳුන් මේ දහම් මඟ මේ ධර්මය, ඊළඟට මම මේ ලොකු ස්වාමීන් වහන්සේගේ පරිවර්තන කියවමින් මේ ධර්මය ඔබට උගන්වන්නෙ. එතකොට මේක අපිට තේරෙන භාෂාවෙන් පරිවර්තනය කරලා පැහැදිලි අර්ථ වචන ඇතිව සිංහල වචනයට ගත්ත පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තිය ලබත්වා. ලොක් ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර මහා සංඝරත්නයට අනගාරිකා මෑණිවරුන්ට පැවිදි අපේක්ෂක දූපුතුන්ට ධර්මාවබෝධයම සැලසේවා. විවාහ වීමට බලාපොරොත්තුවෙන් සිටින සංක සහ දිලක්ෂි දිල්හාරා යන දෙපළට මේ පින් බලයෙන් සියලු ආශිර්වාද සැලසේවා. ඔවුන්ගේ දෙමාපියන්ට, සහෝදර සහෝදරියන්ට, පවුලේ සියලු දෙනාට සියලු යහපත සැලසේවා. සුභාෂ් සාරංග මහත්මයාට, සුරංගි දීපිකා බිරිඳට, රෙසඳි නිත්‍යා දියණියට සහ ඔවුන්ගේ සුජීවත්ව සිටින දෙමව්පියන්ට සහෝදර

සහෝදරියන්ට පවුලේ සියලු දෙනාට නිදුක් නිරෝගී සුවපත් භාවය, දීර්ඝායුෂ සැලසේවා. කොරියාවේ අන්සන්සා තේගු මහමෙව්නා භාවනා අසපුවට සම්බන්ධ සියලු දරුවන්ට මේ පින් අනුමෝදන් වේවා. ඔබ අප කාටත් මව් දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන්ට ගුරු භවතුන්ට ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලියේ ධර්මය ශ්‍රවණය කරන සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. අපි කාටත් මේ දුක්ඛිත සංසාරයෙන් ජය ගැනීම පිණිස, දුක්ඛිත සංසාරයෙන් නිදහස් වීම පිණිස මේ උතුම් තිසරණය එකම පිළිසරණ වේවා. ඒ සරණ තුළින් දුකින් නිදහස් වෙන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=NPeHGwx-etQ&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=69

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන තුළින් අපි සරණ ගිය මේ මහා භද්‍ර කල්පයේ සතරවෙනුව පහළ වී වදාළ ගෞතම නම් වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අනන්ත ආනුභාවයත්, ඒ භාග්‍යවතුන් වහන්සේගේ පිළිසරණ අපිට කොයිතරම් උපකාරයිද කියන කාරණාවත් අපි මේ දහම් වැඩසටහනින් ඉගෙන ගන්නෙ. ඉතින් අද දවසේ මේ උතුම් දහම් වැඩසටහන සඳහා ඉතාලියේ මිලානෝ නගරයේ පදිංචි පින්වත් ප්‍රසාද් ශානක මහත්මයා සහ කාංචනා සුදර්ශනී සහෝදරිය විසින් තමයි දායකත්වය දරන්නෙ. ඒ පින්වතුන් විශාල පිනක් රැස් කරගන්නවා අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරලා. බුදු කෙනෙක් ගැන ලෝකයට අහන්න සළස්වන පින සුලු දෙයක් කියලා හිතන්න එපා. ඒක විශාල පිනක්, විශාල භාග්‍යයක්. ඔබ පවා යම්තැනක ඉඳලා මේ ධර්මය අහලා යම් මොහොතක් හරි හිත එකඟව පැහැදීමක් ඇතිවුනා නම් තුණුරුවන් ගැන ඒ ධර්මයක් අහලා, ඒ ධර්මය කවුරුහරි විකාශන දායකත්වය දරලා මාධ්‍යයෙන් ඔබ වෙත රැගෙන ආපු නිසා. ඒ නිසා ඔබත් අද ඒ පිනේ කොටස්කාරයන් බවට පත්වෙනවා. ඒ ගැන හිතලා සතුටු වෙන්න. ඉතින් අද අපි කතා කරමු, අපි පහුගිය දවසේ කතා කලේ භාග්‍යවතුන් වහන්සේට හිටිය ප්‍රධාන විරුද්ධවාදියා ගැන. ඒක සෑම බුද්ධ ශාසනයකම බුදු කෙනෙකුට ඒකාන්තයෙන්ම විරුද්ධ කාරයෙක් ඉන්නවා. බුදු කෙනෙකුට කියන්නෙ සාමාන්‍යයෙන් ඒක මුළු බුද්ධ ශාසනයටම වගේ. එතකොට ඒ ගැන තමයි අපි කතා කලේ. අදත් ඒ වගේ සිද්ධි ටිකක් කතා කරන්න පුලුවන්, භාග්‍යවතුන් වහන්සේ නමක් මේවට මුහුණදෙන ආකාරය ඒ මනුෂ්‍යන්ව ක්ලේශ රාශියෙන් බැඳ තබාගන්නා වූ ඒ බලවේගය බුදුරජාණන් වහන්සේ යටපත් කළ හැටි, පලවා හැරිය හැටි, එය ජයගත් හැටි, ඒ ජයගැනීම පලවාහැරීම යුද්ධයකින් සිද්ධ වෙච්චි එකක් නෙවෙයි. ඒක මානසිකව සිද්ධ වෙච්චි දෙයක්. දැන් ඔන්න බලන්න ඒ කාලේ සිද්ධ වෙලා තියෙන දේවල්. බුදුරජාණන් වහන්සේ ඒ දවස්වල වැඩ හිටියේ අපි ඉගෙන ගන්නෙ මාර සංයුත්තය, සංයුත්ත නිකාය එකේ, ගිජ්ජකූට පර්වතයේ. එදා බුදුරජාණන් වහන්සේ රාත්‍රියේ අන්ධකාරයේ එළිමහනේ වාඩිවෙලා හිටියා. වැහිපොදත් එක දෙක වැටෙනවා. එතකොට පවිටු මාරයාට මෙවැනි කැමැත්තක් ඇති වුනා. භාග්‍යවතුන් වහන්සේව භය කරවන්න ඕන, තැතිගන්වන්න ඕන, මවිල් කෙලින් කරවන්න ඕන කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ ළඟට ගිහිල්ලා විශාල ගල් පෙරලන්න පටන් ගත්තා. බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න තැන එහා පැත්තෙන් විශාල ගල් පෙරලන්න පටන්

ගත්තා, ගිජ්ජකූටයේ. ඒ මොහොතේ භාග්‍යවතුන් වහන්සේ මොහොතින්, ඒ සැණින් දැනගත්තා මේ පව්ටු මාරයා බව. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ වදාළා, ඉතින් පුලුවන් නම් මේ මුළු ගිජ්ජකූට පර්වතයම හොළවාපං, මේ මුළු ගිජ්ජකූට පර්වතයම හොලවනවා බලන්න, නමුත් බුදුරජාණන් වහන්සේගේ සිත ඉතා හොඳින් නිදහස් වෙලා තියෙන්නෙ. ඒ නිසා කම්පනයක් බුදු හිතක ඇතිවෙන්නෑ කිව්වා. ඉතින් ඒකට සංවේගයට පත්වෙලා ඔහු දුකට පත්වෙලා එතනින් අතුරුදහන් වුනා. සතුටු වුන් නෑ, ඔහු අඳුරගත්තා. ඉතින් ඒ නිසා බලන්න බුදු කෙනෙක් රිදවන්න ඒ ලේසියෙන් පරාජය භාරගන්නැති බව, ඇයි ඒ, සිතාගන්න පුලුවන් දෙයක් නෙවෙයි සිද්ධ වුනේ. කල්ප ගණනකිනුත් මේ මාර බන්ධනයෙන් මිදෙන කෙනෙක් පහළ වෙන් නෑ, බුදු කෙනෙක්මයි ලෝකෙට ඉස්සෙල්ලා පහළ වෙන්නෙ. ඒක කලාතුරකින් ලැබෙන අත්දැකීමක් නිසා ඔහු ඒක ලේසියෙන් පිළිගන්නෑ. තවත් දවසක් බුදුරජාණන් වහන්සේ අනේපිඬු සිටුතුමාගේ ආරාමයේ වැඩ ඉන්නකොට බුදුරජාණන් වහන්සේ විශාල පිරිසකට දහම් දේශනා කරමින් වැඩ හිටියා. එතකොට පාපී මාරයාට මෙහෙම හිතුනා. මේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අනිත් අය පිරිවරාගෙන දහම් දේශනා කරනවා. දැන් මම ඔතෙන්ට ගිහිල්ලා ඔය බණ අහන අයගෙ හිත අවුල් කරලා දාන්න ඕන. නුවණැස වහලා දාන්න ඕන. එහෙම හිතලා භාග්‍යවතුන් වහන්සේ ඉදිරියට ගියා. ගිහිල්ලා හයියෙන් කෑ ගහලා කිව්වා, හා පිරිස මැද්දේ විශාරදව සිංහනාද කරනවා නේහ්, දිනුවා කියලද හිතාගෙන ඉන්නෙ. තමුන්නාන්සෙට විරුද්ධ කාරයෙක් ඉන්නවා. ඒක මතක තියාගන්න කිව්වා. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා මහා වීර වූ තථාගතයන් වහන්සේලා තථාගත බලයට පැමිණිලා ලෝකයේ තෘෂ්ණාවෙන් එතෙර වෙලයි ඉන්නෙ. ඉතින් ඇත්තෙන්ම උන්වහන්සේලා පිරිස් මැද්දෙ විශාරදව සිංහනාද කරනවා තමයි, කියලා කිව්ව ගමන් අරයා දැනගත්තා බුදුරජාණන් වහන්සේ මාව දැනගත්තා කියලා දුකට පත්වෙලා අතුරුදහන් වෙලා ගියා. දැන් බලන්න ධර්මයක් හරියට දේශනා කරනකොට ඒකට තියෙන අකමැත්ත. එතකොට අද කාලෙ ඔය වාගේ සිද්ධි කොච්චර වෙනවා ඇත්ද. හොඳට බණ අහගෙන යනකොට මොකාක්හරි එකක් ඇවිල්ලා අර පිරිසගේ ඔළුව අවුල් වෙලා යන එකක්. මේ බුදුරජාණන් වහන්සේ ජීවමානව වැඩ ඉන්නකාලෙ මෙහෙම සිද්ධ වුනා නම් අද කාලය ගැන කවර කතා ද. තවත් සිද්ධියක් වුනා බුදුරජාණන් වහන්සේ ගිජ්ජකූට පර්වතයේ මද්දකුච්ඡ මිගදායේ වැඩහිටියේ. දැන් දඹදිව ගිහිල්ලා තියෙන කෙනෙක් දන්නවා අපි ගිජ්ජකූට

පර්වතයට යන්න අපේ වාහන නතර කලාට පස්සෙ අතනින් පයින් යන්න ඕන. යනකොට පාණ්ඩව පර්වතයට යන්න මෙතනින් අර කේබල් වලින් යන මේවා තියෙනවා. ඊටපස්සෙ එතනම තියෙනවා අඹ ගස් ටිකක්, ගිජ්ජකූටයට උඩට යන්න හදනකොට. ආන්න ඒ අඹ ගස් ටික තියෙන ප්‍රදේශයට තමයි මද්දකුච්ඡි මිගදාය කියලා කියන්නෙ. ගිජ්ජකූට පර්වතය පාමුල. එතකොට බුදුරජාණන් වහන්සේ එතන තමයි වැඩ හිටියේ. මොකද හේතුව දේවදත්ත ගල් පෙරලලා, දේවදත්ත පෙරලපු ගලේ පතුරක් බුදුරජාණන් වහන්සේගේ සිරිපා වල වැදුනට පස්සෙ කන්ද මුදුනේ ඉදලා පාමුලට දෝලාවෙන් වැඩම කලා. එතකොට බුදුරජාණන් වහන්සේට ගොඩාක් ශාරීරික වේදනාව තිබ්බා. ගොඩාක් දුක් වේදනාව ඇතිවුනා. තියුණු කර්කශ අමිහිරි අමනාප වේදනාව ඇතිවුනා. ඉතින් භාග්‍යවතුන් වහන්සේ හොද සිහිකල්පනාවෙන්, හොද නුවණින් ඒ පීඩා විඳින් නැතිව ඒ වේදනාවන් ඉවසා වදාළා. ඉතින් භාග්‍යවතුන් වහන්සේ දෙපට සිවුර හතරට නවලා ආසනයක් පනවගෙන දකුණු ඇලයෙන් හාන්සි වුනා. වම් සිරිපතුල උඩින් දකුණු සිරිපතුල මදක් මෑත් කොට තබාගෙන සිහිනුවණින් යුතුව සිංහසෙය්‍යාවෙන් වැඩ හිටියා. දැන් අර මූණේ කිසිම ඉරියව්වකවත් බුදුරජාණන් වහන්සේගේ වෙනසක් නෑ, එච්චර වේදනාවක් විඳිද්දි. එතකොට පව්ටු මාරයා ළඟට ආවා. භාග්‍යවතුන් වහන්සේ මෙහෙම කිව්වා. බලන්න අර පොඩ්ඩක් මොකක්ද ප්‍රශ්නයක් වෙන්නේ කියලා බලාගෙන ඉන්නෙ. මොකද නිදාගෙන ඉන්නෙ, මුලා වුනාද, එහෙම නැත්නම් කවි ගැන හිත හිතා ඉන්නවාද. ඇයි දැන් වැඩ නවත්තලාද කියලා ඇහුවා. ඊටපස්සෙ මේ හුදකලාවේ තනියම කුටියකට වෙලා නිදිබර මුහුණ ඇතිව මොකෝ නිදාගෙන? ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ වදාලා මුලා වෙලා නිදාගෙන ඉන්නවා නෙවෙයි, කවි ගැන හිත හිතා නිදාගෙන ඉන්නවාත් නෙවෙයි. මං ලෝකෙට යහපතක් කරනවා නම් තමයි. නමුත් මං ශෝක රහිතව ඉන්න කෙනෙක්. මං හුදකලාවේ තනියම කුටියකට වෙලා මේ සැතපිලා ඉන්නෙ සියලු සතුන් ගැන අනුකම්පා සිතින්. යමෙකුගේ සිත ඇතුලේ රාගාදී හුල් ඇනිලා තියෙනකොට ඔවුන්ගේ හදවත මොහොතක් මොහොතක් පාසා කම්පා වෙනවා. ඉතින් රාගාදී හුල් සහිත උදවිය පවා නිදාගන්නවා නම් ඒ හුල් කිසිවක් නැති මං මොකටද නිදා නොගෙන ඉන්නෙ. රාග, ද්වේෂ, මෝහ තියාගෙන ඉන්න අයත් යසට නිදාගෙන ඉන්නවා නම් රාග, ද්වේෂ, මෝහ ප්‍රහාණය කරපු කෙනෙක් නිදාගෙන හිටියාට මොකද කියලා අහනවා. සැකයෙන් ඇහැරගෙන ඉන්නවාත් නෙවෙයි, නිදාගන්න බයකුත් නෑ, රෑ දවල් දෙකේම මං තුළ තැවෙන කිසිදෙයක්

නෑ. මගේ ජීවිතයේ කොයි පැත්තෙන්වත් පිරිහීමක් පේන් නෑ, ඒ නිසා සියලු සතුන් කෙරෙහි අනුකම්පාවෙන්මයි මං සැතපෙන්නෙ. බුදුරජාණන් වහන්සේ ඇහැරලා ඉන්නෙ සැකයෙන් නෙවෙයි. ලෝකෙ කීදෙනෙක් සැකයෙන් ඇහැරිලා ඉන්නවාද මොනවා වෙයිද මොනවා වෙයිද කියලා. ඊටපස්සෙ නිදාගන්නෙ බයෙනුත් නෙවෙයි. ලෝකෙ කීදෙනෙක් නිදාගන්නවාද බයෙන් මොකක් වෙයිද කියලා. බුදුරජාණන් වහන්සේ සැතපුනත් ලෝකයාට අනුකම්පා සිතින්මයි බුදුරජාණන් වහන්සේගේ ජීවිතය තියෙන්නෙ. එතකොට පවිටු මාරයා මාව දැනගත්තා නෙව මේ ගෞතමයන් කියලා දුකට පත්වෙලා නැත්නම් සංවේගයට පත්වෙලා අතුරුදහන් වෙලා ගියා. ඊටපස්සෙ තවත් සිද්ධියක් වුනා. කොසොල් ජනපදයේ ඒකසාලා කියන බ්‍රාහ්මණ ගමේ බුදුරජාණන් වහන්සේ වැඩ හිටියා, මහත් පිරිසක් පිරිවරාගෙන දහම් දේශනා කරනවා. එතකොට පවිටු මාරයාට මේ අදහස ඇතිවුනා. මේ ගෞතම ශ්‍රමණයන් වහන්සේ මහා පිරිසක් පිරිවරාගෙන දහම් දෙසනවා නෙව, මං ශ්‍රමණ ගෞතමයන් ළඟට යන්නට ඕන. බණ අහන උදවියගේ නුවණැස වහන්න ඕන කියලා, භාග්‍යවතුන් වහන්සේ ඉදිරියට ආවා. දැන් ඉතින් බලන්න බණ කියනවාට තියෙන අකැමැත්ත. අනිත් අය ධර්මය අහනවාට තියෙන අකැමැත්ත. තමුන්නාන්සේ ඔය අනුන්ට අනුශාසනා කරන එක නම් සුදුසු දෙයක් නොවෙයි. ඔය දේවල් කරන්න ගිහින් ඇලීම් ගැටීම් හදාගන්න එපා. දැන් මේ කරුණාවෙන් වගේ ඇවිල්ලා කියනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, සම්බුදු සමිඳුන් ලෝක සත්ත්වයාට හිතානුකම්පාවෙන්මයි අනුශාසනා කරන්නෙ. අනික තථාගතයන් වහන්සේ කියලා කියන්නෙ ඇලීම් ගැටීම් වලින් නිදහස් වෙච්චි කෙනෙක්. ඉතින් මේක කියපු ගමන් මෙයා අතුරුදහන් වුනා. එතකොට බලන්න අර ඔහුව හඳුනාගැනීම සහ සත්‍යය ප්‍රකාශ කිරීමත් එක්ක තමයි ඔහුගේ අතුරුදහන් වීම සිද්ධ වෙන්නෙ. හඳුනා නොගන්නාතාක් කල්, සත්‍යය ප්‍රකට නොවෙන තාක් කල් ඔහුගේ පැවැත්ම එතනයි. ඊටපස්සෙ එතන තවදවසක් භාග්‍යවතුන් වහන්සේ ජේතවනාරාමයේ වැඩ ඉන්නකොට ආයෙත් දවසක් ඇවිල්ලා කියනවා මනසින් නිකුත් වෙලා අහසේ හැසිරෙන තොණ්ඩුවක් තියෙනවා. අන්න ඒ තොණ්ඩුවෙන් මං තමුන්නාන්සෙව බැඳලා දානවා. ශ්‍රමණය ඔබට මගෙන් නම් ගැලවිල්ලක් නෑ, එතකොට මේක මෙයා කියන්නෙ අර භාග්‍යවතුන් වහන්සේ නොමග යවන්න. අහසෙ එල්ලන තොණ්ඩුවක් තියෙනවා මං බඳිනවා කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා, සිත ඇද බැඳ තබන මේ රූප ශබ්ද ගන්ධ රස පහස කියන කම් සැපයෙහි ඇති ආශාව

නැතිවෙලා ගියා. ඒයි මාරය මේ කරුණේදී ඔබ පැරදුනා. පඤ්චකාමයට හිතේ ආසාවක් ඇල්මක් නැත්නම් ඔහුව බඳින්න බෑ, ඉතින් ඔබම දැන් පැරදුනා නේද කිව්වා. අතුරුදහන් වෙලා ගියා. එතකොට බුදුරජාණන් වහන්සේ ඉදිරියට කීවතාවක් නම් මේ එනවාද, සම්බුදු වුනාට පස්සෙ. ඊටපස්සෙ තව දවසක් භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවර භික්ෂූන් වහන්සේලාට ධර්මය දේශනා කරමින් හිටියා පඤ්චුපාදානස්කන්ධය ගැන. පඤ්චුපාදානස්කන්ධයේ දුක් ස්වභාවය ගැන. නොයෙක් ආකාරයෙන් උදාහරණ පෙන්වා දිදී සමාදන් කරව කරවා, උත්සාහවත් කරවා කරවා හිතට ඇතුල් කලා ඒ දහම් කාරණා. ඉතින් සංඝයාත් ඒ දහම් කරුණු තේරුම් ගන්න අදහසින්ම ඒ ධර්මය ශ්‍රවණය කරමින් ඉන්නවා. එතකොට පවිටු මාරයාට හිතුනා දැන් මේ ශ්‍රමණ භවත් ගෞතමයො කරුණු සහිතව මේ පඤ්චුපාදානස්කන්ධය ගැන මේ භික්ෂූන් වහන්සේලාට දහම් දෙසනවා. මේ අයත් හොඳට කන් යොමු කරගෙන අහගෙන ඉන්නවා. මං ඔතෙන්ට ගිහිල්ලා ඔය ඔක්කොම අවුස්සලා දාන්න ඕන. නුවණැස වහලා දාන්න ඕන. හිතලා දැන් සංඝයා බණ අහන්න ආවෙ ඒ කාලෙ මැටි පාත්තරනෙ. පිණ්ඩපාතෙ ගිහිල්ලා දානෙ වළඳලා මැටි පාත්‍රය ටිකක් අව්වෙ තියනවා රත්වෙන්න, තෙත ගතිය නැතිවෙන්න. ඉතින් අව්වේ පාත්‍ර ටික තියලා, ඉතින් පවිටු මාරයා මොකක්ද කලේ, හරකෙක්ගේ වේශයක් මවාගෙන ඒ පාත්‍ර ළඟට හිමීට හිමීට ආවා. එතකොට බණ අහ අහා හිටපු හාමුදුරු නමක් කිව්වා ආන්න හරකෙක් එනවා පාත්‍ර බිඳින්න කියලා. දැන් ඉතින් අර කට්ටියගෙ අවධානය ඔක්කොම නැතිවෙනවානෙ. එතකොට භාග්‍යවතුන් වහන්සේ වදාළා නෑ භික්ෂුව ඔය හරකෙක් නෙවෙයි. ඔය තමයි පාපී මාරයා. ඔබේ නුවණැස වහන්නටයි ආවෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ ඒ කාරණය දැනගෙන රූපයත් වේදනාවත් සංඥාවත්, විඤ්ඤාණයත්, සංස්කාරත් තියෙනවා. මේ පඤ්චුපාදානස්කන්ධය මම නොවේ, මගේ නොවේ කියලා අවබෝධ කලොත් අන්න එතකොට මේ පඤ්චුපාදානස්ඛන්ධය කෙරෙහි ඇලෙන් නෑ. ඔහුට උත්තරය දුන්නෙත් අර භික්ෂූන් වහන්සේලාට අවබෝධ වෙන විදියට. මේ විදියට නොඇලුණු බිය රහිත බවට පත්වුනු හැම සංයෝජනයක්ම ඉක්මවා ගිය ඒ රහතුන් වැඩිය මග ගැන මාර සේනාව හැමතැනම හෙව්වත් හොයාගන්න ලැබෙන් නෑ. පඤ්චුපාදානස්කන්ධයෙන් නිදහස් වෙනවා නම් ඒ වාගේ කෙනෙක් ගැන හොයන්න වෙන් නෑ කිව්වා. ඊටපස්සෙ ඉතින් අතුරුදහන් වෙලා ගියා, මා දැනගත්තා කියලා. ඔය වාගේ සිද්ධි කොච්චර නම් වෙනවා ඇතිද නේ? සතා සීපාවා විදියට පවා එනවානෙ.

දැන් අර කුරුණෑගල පැත්තෙ තියෙනවානෙ පුෂ්පදේව ආරාමය කියලා ආරණ්‍යයක්. එතකොට එහෙදින්නෙ පුෂ්පදේව තෙරුන්ට අර මිදුල අතු ගගා ඉන්නකොට කොළ වඳුරෙක් වෙලා කොළ කඩ කඩා දාන්නෙ. ඊටපස්සෙ ඒකත් අයින් කරලා, ඊටපස්සෙ හරකෙක් වෙලා එනවා. ජරා කරනවා. ඒවත් අයින් කරනවා. මොකද උන්වහන්සේ හිත එක්තැන් කරගෙන තමයි මළුව අමදින්නෙ. ඒකට අකමැති වුනා, හිත එකඟ කරගෙන මළුව අමදින එකට, බුදුගුණ සිහි කර කර. ඊටපස්සෙ කකුළ ඇදගෙන යන අබ්බගාතයෙක් විදියට ආවා. ඊටපස්සෙ රහතන් වහන්සේට මතකයි මුළු ගමේම පිණ්ඩපාතෙ වඩිද්දි කවදාවත් මේ වගේ මනුස්සයෙක් දැකලා නෑ. උන්වහන්සේට හිතුනා මේ අහවලා තමයි කියලා. ඇහුවා උඹ නේද මේ අසවලා. ඊටපස්සෙ කිව්වා ඔව් කියලා. ඊටපස්සෙ කිව්වා උඹ එහෙනම් අහවලා නම් උඹ භාග්‍යවතුන් වහන්සේ දැකලා තියෙනවානෙ බුදුරජාණන් වහන්සේ මවලා පෙන්නපං කිව්වා. ඒ වෙලාවේ අර භික්ෂුව අර භාවනා අරමුණෙන් ගැලවුනානෙ. ඒක දැකලා බුද්ධ රූපය මවලා පෙන්නුවා. නමුත් ඒකෙන් රැවටුනේ ඒ මාරයා. මොකද ඒ බුද්ධ රූපය මවපු ගමන්ම ඒ ඇතිවෙච්චි බුද්ධානුස්සති මනසිකාරය මුල් කරගෙන අර්හත්වයට පත්වුනා. අදටත් ඒ ආරාමය තියෙනවා. ඉතින් ඒ නිසා ඒ එක එක විදියට එනවා. ඉතින් තවත් කෙනෙක්ගේ හිත වහන්න ඕනම නීච ස්වරූපයක රූපයක් මවා ගන්නවා. දැන් ඔන්න තවත් දෙයක් සිද්ධ වෙලා තියෙනවා බුදුරජාණන් වහන්සේගේ කාලයේ. විශාලා මහනුවර සමීපයේ මහ වනයේ කූටාගාර ශාලාවේ, එදා බුදුරජාණන් වහන්සේ වැඩ හිටියේ. ඉතින් බුදුරජාණන් වහන්සේ සංඝයාට ස්පර්ශායතන ගැන දහම් කතාවක් කරමින් හිටියේ, හේතු සහිතව උදාහරණ සහිතව. ඒ සංඝයාට ඒ ස්පර්ශායතන හය අවබෝධ කරගන්න ඕන දහම් කරුණු දේශනා කරමින් හිටියා. එතකොට ඔන්න අරයට හිතුනා මේ කට්ටිය ඔක්කොගෙම හිත අවුල් කරන්න ඕන කියලා බුදුරජාණන් වහන්සේ ඉදිරියට ගිහිල්ලා මහා භයානක ශබ්දයක් ඇති කලා. එතකොට එක්තරා භික්ෂුවක් කිව්වා, අනේ දෙයියනේ අන්න පොලොව පෙරලෙනවෝ කියලා. දැන් ඔන්න අවධානය වෙනස් වුනානෙ කට්ටියගෙ. බුදුරජාණන් වහන්සේ වදාළා, නෑ භික්ෂුව, ඔය මහපොළොව පෙරළෙනවා නෙවෙයි. ඔය තමයි පව්ටු මාරයා, ඔබේ නුවණැස වහන්න ඇවිල්ලා තියෙන්නෙ. ඉතින් වෙලාවේ බුදුරජාණන් වහන්සේ ඒ විස්තරය දැනගෙන වදාළා, රූප, ශබ්ද, රස, පහස, අරමුණු කියන මේවා ඔක්කොම මේ ලෝකයේ තියෙන දරුණු ආමිසයන්. මුළු ලෝකයාම ඒවට සම්පූර්ණයෙන්ම අහුවෙලා ඉන්නෙ. නමුත් බුදුරජාණන්

වහන්සේගේ ශ්‍රාවකයා හොඳ සිහියෙන් ඉදගෙන මේ මාර විජිතය ඉක්මවා යනවා. හිරුමඩලක් වගේ බබළනවා. එතකොටම ඔහු අතුරුදහන් වුනා දුකට පත්වෙලා. එතකොට අර ඔහුට උත්තරය දුන්නෙත් අර මෙතෙක් කරගෙන ආව දහම් කතාවට සමගාමීව අවබෝධයක් වෙන විදියට. ඇත්තටම පැරදුනේ ඔහු තමා. භාග්‍යවතුන් වහන්සේ ඒක ශ්‍රාවකයාගේ අවබෝධයටම හැරෙව්වා. එතකොට දැන් මේවා හිතනකොට, මේවා අහනකොට හිතෙන් නැද්ද දැන් මේ වාගේ පුද්ගලයෙක් දැන් ඉන්නවා, ඒ පුද්ගලයා අද කාලෙ අයට ජේන් නැද්ද කියලා. පින්වතුනි මේ ආවේ ඉස්සෙල්ලා ඔහුට සේනාවක් ඉන්නවානෙ. සේනා දහයක් ඉන්නවා. ඒ දහයෙන් එක සේනාවකගේ යුද්ධය තමයි ඒ යුධ ආක්‍රමණය තමයි කාමය ඇවිස්සීම. දෙවෙනි කට්ටියගේ ආක්‍රමණය තමයි අරතිය ඇවිස්සීම. අරතිය කියන්නෙ කුසල් දහම් වලට තියෙන කැමැත්ත නැතිවෙනවා හිතින්. ඊටපස්සෙ බඩගින්න පිපාසය ඇවිස්සීම ඊළඟ සේනාවෙ කටයුත්ත. තණ්හාව ඇවිස්සීම ඊළඟ සේනවෙ කටයුත්ත. නිදිමත ඇවිස්සීම ඊළඟ සේනාවේ කටයුත්ත. ඊළඟට භය තැතිගැනීම් ඇවිස්සීම ඊළඟ සේනාවේ කටයුත්ත. විචිකිච්ඡාව, සැකය ඉපැද්දවීම ඊළඟ සේනාවේ කටයුත්ත. ඊළඟට ගුණමකුකමයි, දැඩි බවයි ඇවිස්සීම ඊළඟ සේනාවේ කටයුත්ත. ලාභ සත්කාර වලට හිත බැඳලා දාන එක ඊළඟ සේනාවේ කටයුත්ත. තමා උසස් කරලා අන් අය පහත් කරවන එක ඊළඟ සේනාවේ කටයුත්ත. එතකොට ඉස්සෙල්ලාම සේනාව දාලයි ගහන්නෙ. සේනාව දාලා ගහලා බැරිවුනොත් තමයි මහ එක්කෙනා එන්නෙ. ඉතින් අද කාලෙ මහ එක්කෙනාව දකින්න ඕන නම් අර සේනා දහයත් එක්කලා සටන් කරන්න ඕන. එතකොට මහ එක්කෙනා එනවා. එතකොට අද කාලෙ මෙහෙම ඇවිල්ලා කතා බහ කිරීමක් ගැන නැත්තෙ ආයෙ එයාට එන්න උවමනාවක් නෑ. මිනිස්සු ඉතින් පළවෙනි සේනාවටම ලෝකෙම අහුවෙලා ඉවරයිනෙ. කාමයට. ඊටපස්සෙ දෙවෙනි සේනාව අරතිය, මේ බණක් භාවනාවක් කරලා කුසලයක් කරගන්නැති අය අරතියට වැටෙනවානෙ. ඊටපස්සෙ එයාලත් ආයෙ පළවෙනි සේනාවට කාමයටම වැටෙනවානෙ. ලේසි නෑ මේක. ඉතින් ඔය සේනා දෙකේම ලොකු දෙයක් කරන්න පුලුවන් නිසා ඔක්කොම බිමහරහා දාන්න පුලුවන් එකේ ආයෙ දහයක් ගැන කවර කතා ද. එතකොට පුංචි සේනාවක් ඇවිල්ලත් මැඩ පවත්වන්න පුලුවන් ලෝකයට මහ එක්කෙනෙක් මොකටද. දැන් මේ බුදුරජාණන් වහන්සේ ඉස්සරහට සංඝයා ඉස්සරහට මේ ඇවිල්ලා කතා කරන්නෙ අර සේනා දහයෙන් මැඩ පවත්වන්න බෑ. ඒවා ඉක්මවා ගියා. ඊටපස්සෙ ඒ කෙනා පිස්සු හැදිලා වගේ ඉස්සරහට

ඇවිල්ලා කතා කරනවා. ඔන්න දවසක් බුදුරජාණන් වහන්සේ පඤ්චසාලා කියන බමුණු ගමේ පොඩි දරුවන්ට තෑගි යවන දවසක් තිබ්බා. එදා බුදුරජාණන් වහන්සේ ඒ ගමේ පිණ්ඩපාතෙ වැඩියා. එතකොට මාරයාට අදහසක් හිතුනා භාග්‍යවතුන් වහන්සේට අද මොනවත් ලැබෙන්නැතිව ඉන්න ඕන කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ හේතුපාත්‍රයෙන් ගමට ගිහිල්ලා එක බත් ඇටයක්වත් නැතිව ගමෙන් වැඩම කලා ආපහු. එතකොට ආකාසෙ ඉඳලා කියනවා මොකෝ පිණ්ඩපාතෙ ලැබුන් නැද්ද කියලා. දැන් බුදුරජාණන් වහන්සේ වදාළා ඔහේ ඉතින් ලැබෙන පිණ්ඩපාතෙ නැතිකලානෙ කියලා. එහෙනම් ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ ආපහු වඩින්න, මං දානෙ ලැබෙන විදියක් කරන්නම් කියලා කිව්වා. ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේ වදාළා, තථාගතයන් වහන්සේ සමඟ හැප්පෙන්න ගිහින් පව් රැස් කරගත්තා උඹ. ඒයි මාරය, උඹ හිතන්නේ පව් කියන ඒවා විපාක දෙන් නෑ කියලාද. උඹට පව් විපාක දෙන් නෑ කියලද කියලා ඇහුවා. ඇත්තෙන්ම බුදුරජාණන් වහන්සේ වදාළා, සුසුකං වත ජීවානං, ඇත්තටම අපිට කිසිම ක්ලේශයක් නැති නිසා අපි සැපසේමයි ජීවත් වෙන්නෙ. ආභස්සර දිව්‍ය ලෝකෙ දෙවියන් වගේ අපිත් ප්‍රීතිය අනුභව කරලා ඉන්නවා. ප්‍රීතිභක්කා භවිස්සාම දේවා ආභස්සරා යතා. ප්‍රීතිය අනුභව කරලා ඉන්න පුලුවන් කිව්වා අපිට උඹගේ දානය උඹම තියාගනිං කිව්වා. ඉතින් කොච්චර බලපෑම් කරදර වලට මුහුණ දෙන්න සිද්ධ වුනාද, භාග්‍යවතුන් වහන්සේ නිකෙලෙස් වෙලා සිටිද්දිත්. දානෙ පවා නොලැබී ගියා. අද කාලෙ නිකං මේ එක දවසක් බණ අහනකොට, දවසක් දෙකක් බණ අහනකොට, ඊළඟට භාවනාවක් කරනකොට ඔළුවෙ කැක්කුමක් කොන්දෙ කැක්කුමක් ආපුවාම මේචචර පින් කරන අපිට, මෙච්චර බණ අහන අපිට මොකද මේ කරදර කියලා අහනවා. ඒ හැමතැනකම තියෙන්නෙ ශාසනය ගැන නොදන්නා බව. මේකෙන් මේවා කියලා දෙන්නේ තේරුම් ගන්න මේ බුද්ධ කාලෙ වෙච්ච දේවල්. මේ සියල්ල අභිබවා අභිභූ, මේ සියල්ල මැඩපවත්වාගෙන, බුදුරජාණන් වහන්සේ තථාගත ශ්‍රී සද්ධර්මය දේශනා කරපු සත්ත්වයන් සංසාරෙන් එතෙර කරවපු ඒ උතුම් සම්බුදු ජීවිතයට පහදින්න. ඉතින් පින්වත්නි ඔන්න තව සිද්ධියක් වුනා. ඒ තමයි භාග්‍යවතුන් වහන්සේ එදා භික්ෂූන් වහන්සේලාට සැවැත් නුවරදි අමා මහ නිවන පිළිබඳව දේශනා කරමින් හිටියි. කරුණු දක්වලා සමාදන් කරවලා, විස්තර කරද්දි භික්ෂූන් වහන්සේලාත් ඒක අවබෝධ කරගන්නවා කියන අදහසින්ම තමයි ශ්‍රවණය කළේ. එතකොට පවිටු මාරයාට හිතුනා මේ ගෞතම ශ්‍රමණයන් වහන්සේ භික්ෂු සංඝයාට ඒ

අමා මහ නිවන ගැන ධර්ම කතාවන් කියලා දෙනවා. මං දැන් මෙතෙන්ට ගිහිල්ලා මේ ඔක්කොම අවුල් කරලා දාන්න ඕන. නුවණැස වහලා දාන්න ඕන. ඊටපස්සෙ පාපී මාරයා ගොවියෙකුගේ වේශයක් මවාගත්තා. ලොකු නගුලක් කරේ තබාගත්තා. දිග කෙවිටකුත් අතට අරගත්තා. කොණ්ඩෙ අවුල් කරගෙන හණවැරහැලි ඇඳගෙන මඩ තැවරුණු පාවලින් යුතුව භාග්‍යවතුන් වහන්සේ ළඟට ඇවිල්ලා බුදුරජාණන් වහන්සේගෙන් අහනවා, ඒයි ශ්‍රමණය මගේ හරක් දැක්කද. දැන් බලන්න බුදුරජාණන් වහන්සේ නිවන ගැන දහම් දේශනා කර කර ඉද්දි නගුලක් කරේ තියාගෙන, මඩ ගාගෙන කොණ්ඩෙ අවුල් කරගත්ත එකෙක් ඇවිල්ලා අහනවා මේ මගේ හරක් ටික දැක්කද කියලා. සම්පූර්ණයෙන් පිරිසගේ අවධානය වෙනස් වෙන් නැද්ද. අද කාලෙත් සමහර වෙලාවට තියෙනවා මොකක්හරි හොඳ දහම් කතාවක් කරගෙන යනකොට එතනින් එක්කෙනෙක් මොකාක්හරි අවුල් ප්‍රශ්නයක් අහනවා. ඒ ප්‍රශ්නය අහපු ගමන් අර මෙතෙක් කරගෙන ආව දහම් කතාව සම්පූර්ණයෙන් අනිත් පැත්තකට හැරෙනවා. ඉතින් කවුද දන්නෙ එක එක බලපෑම්ද කියලා ඒවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ තත්පරයට අඳුනගත්තානෙ. මාරය උඹට හරකුන්ගෙන් තියෙන ඵලය? තොට මොකටද හරක්? උඹට හරක්ගෙන් තියෙන ඵලය මොකක්ද. ඒයි ශ්‍රමණය ඇස කියන්නෙ මගේ දෙයක්. රූපයත් මගේ, ඇසේ ස්පර්ශයත් මගේ. ඇහේ විඤ්ඤාණයත් මගේ. ඉතින් එහෙම එකේ ශ්‍රමණය මගෙන් නිදහස් වෙන්න හදන්නෙ කොහේ ගිහිල්ලද. පුදුම කතාවක්. ඇහැත් එයාට අයිතියයි, රූපයත් එයාට අයිතියි, ඇහේ විඤ්ඤාණයත් එයාට අයිතියි. එතකොට ඔය තුනේ එකතුවීමෙන්නෙ ස්පර්ශය. ස්පර්ශයෙන්නෙ වේදනාව, සංඥාව, චේතනාව, සංස්කාර. මේ ඔක්කොම ටික ආයෙ ස්පර්ශය මුල් කරගෙනනෙ. ඒ ස්පර්ශය ඇතිවෙන්නෙ ඇහැයි, රූපයයි, විඤ්ඤාණයයි, ඒ තුනම මගේ කියනවා. ඒ තුනම මගේ නම්, දැන් ඇත්තටම ඇහෙන් රූපයක් බලනකොට, කණින් ශබ්දයක් අහනකොට ඒ ඔක්කොම මාරයාට අයිති නම් කොහොමද ඇහුවා නිදහස් වෙන්නෙ මේකෙන්. ඊටපස්සෙ ඒයි ශ්‍රමණය කණත් මගේ, ශබ්දත් මගේ, කණේ ස්පර්ශයත් මගේ. කණේ විඤ්ඤාණයත් මගේ. එහෙම එකේ මගෙන් නිදහස් වෙන්නෙ කොහොමද ඇහුවා. නාසය, ගඳ සුවඳ ස්පර්ශය, නාසයේ විඤ්ඤාණය, ඊටපස්සෙ දිව, රසය, දිවේ ස්පර්ශය, දිවේ විඤ්ඤාණය, කය කයේ පහස, ඊළඟට කයේ ස්පර්ශය, විඤ්ඤාණය, මනස, මනසට සිතෙන අරමුණු, මනසේ ස්පර්ශය, විඤ්ඤාණය ඉතින් මේ ඔක්කොම මගෙයි. එහෙම තියෙද්දින් උඹලා කොහොමද ඇහුවා මගෙන්

නිදහස් වෙන්නෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා ඇත්ත. ඇස ඔබේ තමයි, රූපත් ඔබේ තමයි. ඇසේ ස්පර්ශයත්, විඤ්ඤාණයත් ඔබේ තමයි. නමුත් මාරය, යම් තැනක ඇස නැත්නම්, රූප නැත්නම්, ඇසේ ස්පර්ශයත්, විඤ්ඤාණයත් නැත්නම් මාරය ඔබට එතෙන්ට එන්න බෑ. යම් තැනක ඇහැක් තියෙනවා නම් රූපයක් තියෙනවා නම් ඇහේ ස්පර්ශය සිද්ධ වෙනවා නම් එතන විඤ්ඤාණය වැඩ කරනවා නම් එතෙන්ට මාරයාට එන්න පුලුවන්. එහෙනම් අපි සම්පූර්ණයෙන්ම ඔහුට ඕනෑම වෙලාවක ඇවිල්ලා ලැගුම් ගන්න පුලුවන් ස්වභාවයෙන් තමයි සත්ත්වයා සිටින්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා මේවා කිසිම ආකාරයකින් නැත්නම් ඒ තැනට එන්න බෑ. ඊටපස්සෙ කිව්වා කණ, කණේ ශබ්දය, කණේ ස්පර්ශය, කණේ විඤ්ඤාණය උඹට අයිතියි. ඒක හරි. යම් තැනක කණ නැත්නම්, ශබ්දය නැත්නම්, ඊටපස්සෙ ස්පර්ශ, විඤ්ඤාණය නැත්නම් එතෙන්ට උඹට එන්න බෑ, ඊටපස්සෙ කියනවා දැන් අපි ඇස නෑ කියලා කියන්නෙ ඇස කෙරෙහි තෘෂ්ණාවක් නැත්නම්, එහෙමනෙ අපි ඒක තේරුම් ගන්නෙ. එතකොට ඇස කෙරෙහි තෘෂ්ණාවක් නැත්නම් සසර හදන ඇහැක් නෑ එයාට. ඒ රූපය කෙරෙහි තෘෂ්ණාවක් නැත්නම් සංසාරය හදන රූපයක් ඔහුට නෑ. ඇසේ ස්පර්ශය කෙරෙහි අනවබෝධය, අවිද්‍යාව දුරු කරලා නම් ඒ ස්පර්ශයෙන් එයාගෙ සසර හදන්න බෑ. ඇහේ විඤ්ඤාණය තෘෂ්ණාවෙන් තොරයි නම් සසර හදන්න බෑ. ඉතින් ඒවා යම් තැන නැත්නම් ඒ තෘෂ්ණාවෙන් තොර නම් ඒවා ඉක්මවා ගිහිල්ලා නම් ඒ වාගේ තැනකට එන්න බෑ. නාසය ඔබේ, ගඳසුවඳ ඔබේ. නාසයේ ස්පර්ශයත් ඔබේ. විඤ්ඤාණයත් ඔබේ. ඒත් පාපී මාරය යම්කිසි තැනක නාසය නැත්නම් ගඳසුවඳ නැත්නම්, ස්පර්ශය නැත්නම්, විඤ්ඤාණය නැත්නම් එතෙන්ට උඹට එන්න බෑ. එතකොට දැන් හිතන්න බලන්න දිව, දිවට දැනෙන රස ඒවා මම මගේ මගේ ආත්මය කියලානෙ ඔක්කොම සත්ත්වයා හිතන්නෙ. අද කෑම රහ නෑ. ඇයි ඒ? ඒ දිවට දැනෙන රසය මම මගේ කියලා අල්ලා ගැනීමනෙ. අද හරියට තිබ්බෙ නෑ පෙනුම මදි. ඒ ඔක්කොම චේතනා, මාරයාට ලැගුම් ගන්න ස්වභාවයෙන් තියෙන්නෙ. යම්තැනක ඒවා නැත්නම් දිවත් නැත්නම්, රසයත් නැත්නම්, දිවේ ස්පර්ශයත් නැත්නම්, විඤ්ඤාණයත් නැත්නම් එතෙන්ට එන්න බෑ. කයත්, කයට දැනෙන පහසත්, කයේ ස්පර්ශයත්, විඤ්ඤාණයත් නුඹේ තමයි කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාළා හරි ඒක උඹට අයිතියි. නමුත් යම් තැනක කය නැත්නම්, පහස නැත්නම්, කයේ සපර්ශය නැත්නම්, විඤ්ඤාණය නැත්නම් එතෙන්ට උඹට එන්න බෑ. මනස උඹේ තමයි. මනසේ හිතට එන අරමුණුත් උඹට අයිතියි. ඔන්න

දැන් බලන්න මනසට එන අරමුණු අයිති මාරයාට. එතකොට අපිට අයිති නෑ ඒවා. එතකොට විඤ්ඤාණයත් අයිති එයාට. ඒ නිසා යම් තැනක මනසත් නැත්නම්, අරමුණුත් නැත්නම්, මනසේ ස්පර්ශයත් නැත්නම්, විඤ්ඤාණයත් නැත්නම් අන්න එතනට ඔබට යන්න බෑ. එතකොට දැන් මේක හොඳට තේරුම් ගෙන තියෙන්න ඕන. මේ අපේ මනස අයිති කාටද කියලා. හිතට එන සිතුවිලි අයිති කාටද කියලා. දැන් ගොඩාක් අය අපිට ඇවිල්ලා කතා කරලා තියෙනවා සාමාන්‍යයෙන් බුදුන් වදින්න යනකොට, බණ භාවනා කරන්න යනකොට, එහෙම නැත්නම් ධර්මය අහනකොට ගොඩක් නරක සිතුවිලි එනවා. සමහර අයට කුණුහරුප මතක් වෙනවා. සමහර අයට නොයෙක් නොයෙක් අසාමාන්‍ය සිතුවිලි එනවා. ගොඩාක් අයට තරුණ පරපුරට ඔය ප්‍රශ්නෙ තියෙනවා. වැඩිහිටි අයටත් තියෙනවා. එතකොට ඒ අය ගොඩාක් දුක් වෙනවා, පසුතැවිලි වෙනවා. අනේ මට බුදුන් වදින්න බෑ, මට මේ සිතිවිලි එනවා මෙහෙමයි කියලා. නමුත් ඔහු විදර්ශනා කරන්න ඕන. මේ සිතට එන සිතුවිලි මට අයිති නෑ කියලා. ඒවා අයිති එක්කෙනෙක් ඉන්නවා. ඉතින් එයාට ඒවා අයිති නම් එයාට ඕන ඕන දේවල් හිත්තවන්න පුලුවන්නෙ. සිතට අරමුණු කරවන්න පුලුවන්නෙ. මොකද ඒවා අයිති එයාටනෙ. එතකොට කොච්චර දේවල් තමන්ට දුන්නත්, ඒ දෙන දේවල් මම නොවේ, මගේ නොවේ, මගේ ආත්මය නොවේ කියලා බැහැර කරනවා නම් ඒක ජීවිතේට කිඳාබහින් නැනෙ. බාහිරින් කොච්චර දේවල් දුන්නත්. ඒකනෙ විදර්ශනාවෙන් මේක සුද්ධ වෙලාම යන්නෙ. ඒ නිසා ඒ වගේ අය විදර්ශනාව හුරු කරන්න ඕන. මේ මනස මට අයිති නෑ. මේ සිතිවිලි මට අයිති නෑ, මේ මනසත් අරමුණුත් නිසා ඇතිවන විඤ්ඤාණය මට අයිති නෑ, මේ තුනේ ස්පර්ශය මට අයිති නෑ. ඒ ස්පර්ශය නිසා දැනෙන වේදනාව මට අයිති නෑ. ඒ ස්පර්ශය නිසා ඇතිවන චේතනාවන්නෙ නරක සිතිවිලි, ඒවා මට අයිති නෑ. මේ මම නොවේ, මගේ නොවේ, මගේ ආත්මය නොවේ කියලා විදර්ශනාවට හරවන්න ඕන. මොකද බුදුරජාණන් වහන්සේ ඉදිරියට ඇවිල්ලා මේ කට්ටියගේ ඔළුව අවුල් කරවන්න, ඒ කට්ටියගෙ දහම් කතාවට පරිබාහිර දෙයක් දැම්මත් බුදුරජාණන් වහන්සේ එයාට උත්තර දෙන්නෙ අර දහම් කතාවටම එකතු වෙන එකක්. එතකොට සංඝයාගේ හිත එතනින් මෑත් වෙන් නෑ. ඒ තුළින්ම මගඵල ලබනවා. ශාස්තෘ සම්පත්තිය, බුදු කෙනෙක් වැඩ හිටපු නිසා. මේ විදියේ දෙයක් බුදු කෙනෙක්මයි කළේ. බුදු කෙනෙක් වැඩ හිටපු නිසා. ඒකයි බුදුරජාණන් වහන්සේලාගේ පහළ වීමේ ශ්‍රේෂ්ට බව. ඊටපස්සෙ මාරයා කියනවා ඒ වුනාට කවුරුහරි කියනවා නම් ඒවා මගේ කියලා, ඒවා මට අයිතියි කියලා අන්න ඒවා

ගැන කෙනෙකුන්ගේ හිත පවතිනවා නම් ශ්‍රමණය මගෙන් නම් නිදහස් වෙන්න බෑ, මගේ මට අයිතියි කියලා කවුරුහරි කියනවා නම් ඒවා ගැනම හිත හිතා ඉන්නවා නම් ඒ අයට මගෙන් නිදහස් වෙන්න බෑ කියනවා. බුදුරජාණන් වහන්සේ වදාළා ඒ වුනාට මාරය, කවුරුහරි කියනවා නම් ඒක මගේ නොවෙයි, ඒක මට අයිති නෑ, මම නොවෙයි කියලා මාරය මේ ගැන ඔබ දැනගන්න ඕන. මගේ ගමන් මාර්ගය වත් උඹට දකින්න වෙන් නෑ. එතකොට ඒ මම නෙවෙයි, මගේ නෙවෙයි, මගේ ආත්මය නෙවෙය කියලා යම්කිසි කෙනෙක් විමසනවා නම් ඒ කෙනා ගිය දිශාවක් වත්, මොකක්ද එයාට වුනේ කියලාවත් හිතන්න බෑ කියනවා මාරයාට. ඒකයි. ඉතින් ඒ නිසා බලන්න මම, මගේ, මගේ ආත්මය කියලා ග්‍රහණය කරගෙන ඉන්න එක කොච්චර මනුස්සයෙක් ඒ බන්ධනය තුළ හිරකරනවාද කියලා. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ මාව අඳුරගත්තානේ කියලා දුකට සංවේගයට පත්වෙලා ඔහු අතුරුදහන් වෙලා ගියා. ඊටපස්සෙ තව බලන්න සිතුවිල්ලක් සිතුවිල්ලක් ගානේ බලලා, සිතුවිල්ලක් ගානෙ මොකක්ද ඊළඟට කරන්නෙ කියන සංඥාවෙන් ඉන්නෙ. ඒ දවස්වල භාග්‍යවතුන් වහන්සේ හිමාලයට වැඩලා. හිමාලයේ වනගත කුටියක බුදුරජාණන් වහන්සේ හුදෙකලාවෙන් ඉන්නකොට බුදුරජාණන් වහන්සේට සිතුවිල්ලක් ඇතිවුනා ඇත්තෙන්ම මේ මරණීය දණ්ඩනය දෙන්නැතිව, මරණය කියන එක අන් අයට දෙන්නැතිව ශෝකය දෙන්නැතිව, අන් අය පරද්දවන්නෙත් නැතිව, පරදවන්නෙත් නැතිව, ධාර්මිකව ආණ්ඩුවක් කරන්න බැරිද, ධාර්මික ආණ්ඩුවක් කරන්න පුලුවන් නේද මේ වාගේ පාපී දේවල් එකතු කරන් නැතිව. ඒ වෙලාවේ ඒ භාග්‍යවතුන් වහන්සේ හිතපු සිතුවිල්ල මාරයා දැනගත්තා. එතකොට හිතන්න බුදු කෙනෙක් හිතන සිතුවිල්ලත් බුදුරජාණන් වහන්සේ නමක් හිතන සිතුවිල්ලත් ඔහු දැනගන්නවා නම් අපි ගැන කවර කතා ද. ඒකයි බුදුරජාණන් වහන්සේ වදාළේ, මේ ලෝකෙ බුදුරජාණන් වහන්සේ හැර නම් අධිපති බවෙන් අග්‍ර මාරයා බව. ඒ වෙලාවේ පවිටු මාරයා බුදුරජාණන් වහන්සෙ ළඟට ඇවිදින් මෙහෙම කිව්වා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ආණ්ඩුව කරන සේක්වා. සුගතයන් වහන්ස ආණ්ඩුව කරන සේක්වා. මරන්නේ නැතිව මරවන්නෙත් නැතිව, පරද්දන්නෙත් නැතිව, පරදවන්නෙත් නැතිව, ශෝක කරන්නෙත් නැතිව, ශෝක කරවන්නෙත් නැතිව, ධාර්මිකව රජකම් කරන්න පුලුවන් නෙව. බුදුරජාණන් වහන්සේ වදාළා මාරය නුඹ මොකක්ද දැක්කෙ. මොනවා දැනගෙනද ඔය ඕවා මට කියන්නෙ. භාග්‍යවතුන් වහන්ස මෙහෙම රජකම් කරන්න කියලා. ඊටපස්සෙ කියනවා භාග්‍යවතුන් වහන්ස

ඔබ වහන්සේ සතර ඍද්ධි පාද මනාව වඩලා තියෙන්නෙ. බහුල වශයෙන්, යානාවක් වශයෙන්, නැවතී සිටින තැනක් වශයෙන්, තමන් තුළ පිහිටුවා ගෙන හොඳ හැටියට පුහුණු කරලා ඉන්නෙ. ඉතින් භාවනාවෙන් සම්පූර්ණ කරලා ඉන්නෙ. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස කැමැති නම්, ඔබ වහන්සේ හිතුවොත් මේ හිමාල පර්වතය රත්තරන් වේවා කියලා ඔබවහන්සේට හිමාල පර්වතය රත්තරන් කරන්න පුලුවන්. එහෙව් එකේ ඔබවහන්සේට රජකම කියන්නෙ මොකක්ද. බුදුරජාණන් වහන්සේ වදාළා රනින් රිදියෙන් කරපු තනි පර්වතයක් තියෙනවා නම් ඒ පර්වතය වාගේ දෙගුණයක් විශාල පර්වතයක් වුනත් තනි පුද්ගලයෙකුගේ හිතට සෑහෙන් නෑ. කොච්චර වස්තුව හම්බවුනත් මනුස්සයෙක්ගේ හිතට ඒක සෑහෙන් නෑ. යම් කෙනෙක් මේ කාමයන් හේතු කරගෙන දුක හටගන්න බව අවබෝධ කලා නම් ඒ කෙනා ආයෙත් පඤ්චකාම සුවයට නැමෙන්නේ කොහොමද. ලෝකයේ කාම සුවයට නැමෙන්නේ කොහොමද. ලෝකයේ තියෙන මේ පඤ්ච කාම සැප, කෙලෙස් බව අවබෝධ කරගත්ත කෙනා ඒවා දුරු කිරීම පිණිසමයි හික්මෙන්නෙ. එතකොට පවිටු මාරයා භාග්‍යවතුන් වහන්සේ මාව දැනගත්තා නෙව කියලා අතුරුදහන් වෙලා දුකට පත්වෙලා ගියා. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පඤ්චකාමයෙන් දුක උපදින බව අවබෝධ කරපු කෙනෙක් ආයෙ කොහොමද අහනවා පඤ්චකාමයට එන්නෙ. ඉතින් ඒ නිසා මේවා තේරුම් ගන්න දැන් බුදුරජාණන් වහන්සේ නමක් ඒ අදාළ විදියට අදාළ තැන තේරුම් අරන්, අදාල උත්තරය දුන්න නිසා මෙහෙම බේරිලා ගියා. ඉතින් බුදුරජාණන් වහන්සේගේම ශාසනයේ තමයි, බුදු කෙනෙක් ළඟම තමයි ඊළඟට බුදු කෙනෙක්ගේ දහම් ඇසුරෙන්මයි මේකෙන් නම් ගැලවෙන්න තියෙන්නෙ. නැත්නම් මේ ලෝකෙ බැඳලා දානවා ඔක්කොම ටික. දෘෂ්ටි විසින්ම බැඳලා දානවා. නොයෙක් මතිමතාන්තර විසින් බැඳලා දානවා. මිනිස්සුන්ගේ හිත් ඒ වගේම මේ සමාජය මෙහෙයවන අයගේ හිත්, සමාජයට ගුරුහරුකම් දෙන අයගේ හිත් වහලා දාලා මිනිස්සුන්ට වැරදි අදහසක් දානවා හිත් වලට. ඉතින් බොහෝ පිරිසක් ඉවරයි දැන්. වැඩිය ඕන නෑ දැන් අර පඤ්චසාලා ගමට ගිහිල්ලා දානය නොදුන්නානේ. ඒ මිනිස්සු බුදුරජාණන් වහන්සේ දකිනකොට බැණවැදුනානෙ. එතකොට ඒ කාලයේ බුදුරජාණන් වහන්සේව බැහැර කරපු ඒ සියලු දෙනාට මැරුණට පස්සෙ දුගතියේ උපදින්නෙ. නමුත් ඔවුන් කටයුතු කරන්නෙ යම්කිසි කෙනෙක්ගේ බැල්මෙන්. බැල්මෙන් කටයුතු කලාට ඒ කර්මය ඔවුන් දායාද කරගන්නවා. හේතුව තමන්ගේ හිත ඒකට ඔවුන්ට ස්පර්ශ කරන්න පුලුවන්

විදියට පැවැත්වීම නිසානෙ ඒ දේ සිද්ධ වෙන්නෙ. ඒකයි. හේතුව තමන්ගේ හිත ඒකට ඔවුන්ට ස්පර්ශ කරන්න පුලුවන් විදියට පැවැත්වීම නිසානෙ ඒ දේ සිද්ධ වන්නේ. ඒකයි. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ අපි හොඳට තේරුම් ගන්න ඕන මේ වාගේ දෙයක් තියෙනවා කියලා. අපිට භාග්‍යවතුන් වහන්සේගේ ඉඳලාම සෙලවෙන්නැතිව එකම විදියට මේක පවත්වාගෙන, වෛරය පවත්වාගෙන මේ සත්ත්වයාව නිවන් මාර්ගයට යන එක වළක්වන්න වෙනම බලවේගයක් තියෙනවා කියලා අපි දැනගත යුතුයි. ඔහු අපි ආක්‍රමණය කරන්නෙ කාමය මුල් කරගෙන. අරතිය මුල් කරගෙන. තණ්හාව මුල් කරගෙන. විචිකිච්ඡාව, සැකය, භය බිරාන්ත කම මුල් කරගෙන තමයි ආක්‍රමණය කරන්නෙ. එතකොට ඒ වාගේ ස්වභාවයක් අපේ හිත් වල තියෙන නිසා තමයි මේ ඔක්කොම විනාශ වෙලා යන්නෙ. හොඳට බණ භාවනා කරගෙන ඉන්නකොට ඔන්න දායකයෙක් ඇවිල්ලා ස්මාට් ෆෝන් එකක් පූජා කරනවා. ඊටපස්සෙ ඒක ඔබන්න ගත්තට පස්සෙ ආයෙ බණ භාවනාවක් නෑ. ඊටපස්සෙ මොකක්හරි හොඳ බණක් භාවනාවක් කරගෙන ඉන්නකොට ගෙවල්වල මොකක්හරි ප්‍රශ්නයක් ඇතිවෙනවා. ඒවා හොයලා බලන්න ගියාට පස්සෙ බණ භාවනාවක් නෑ. ඊටපස්සෙ ඔන්න ටිකක් බණ භාවනාවක් කරගෙන ඉන්නකොට අනිත් අයට කියනවා, කියනකොට මාධ්‍යයෙන් යූටියුබ් එකෙන් ඇවිල්ලා ඔන්න කට්ටිය ඔක්කොම එයාව ඉන්ටවීව් කරනවා. ඊටපස්සෙ ඒවට උත්තර දිදී ගිහිල්ලා ගිහිල්ලා වෙන පැත්තකට යනවා. ආයෙ ඇති බණ භාවනාවක් නෑ. එක්කො බණ භාවනාවක් කරගෙන යනකොට හිත ස්පර්ශ කරනවා අමනුස්සයෙක්. හිතට නොයෙක් අදහස් දානවා. දාලා ඉතින් එක එක දේවල් කිය කියා යනවා. මේවගෙන් කොහොමද ගැලවෙන්නෙ කියලා කියන්නකො. මේක සුලු දෙයක්ද, කාටද මේවා පේන්නෙ. මොකක්ද වුනේ කියලා කවුද දැන් විග්‍රහ කරන්නෙ. බුදු කෙනෙක් වැඩ හිටපු නිසා මේ විදියට විස්තර කලා. ඒ නිසා අද කාලෙ හොඳම දේ තමයි ඉස්සෙල්ලාම බුදුරජාණන් වහන්සේ සරණ යන්න ඕන බලවත්ව. ශ්‍රී සද්ධර්මය සරණ යන්න ඕන බලවත්ව. ආර්ය මහා සංඝරත්නය සරණ යන්න ඕන බලවත්ව. ඉතින් ඒ කාලෙ ඉතින් බුදුරජාණන් වහන්සේ රිද්දන්න බැරිම තැන ඒ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෝ, එහෙම නැත්නම් බුදුරජාණන් වහන්සේ රිද්දන්න කියලා රාහුලයන් පවා බිය තැතිගැනීම් වලට ලක් කරන්න මාරයා උත්සාහ කරපු අවස්ථා තියෙනවා. දවසක් සංඝයා සැවැත් නුවර වෙහෙරට වැඩම කරලා සංඝයා බොහෝ සඟ පිරිසක් නිසා කුටි සෙනසුන් දීලා අඩු වයසින් හිටපු රාහුලයන්

තමන්ගේ කුටි සෙනසුනත් ස්වාමීන් වහන්සේ නමකට පූජා කරලා උන්වහන්සේ ඇවිල්ලා ගන්ධ කුටියේ ඉස්සරහා ඉස්තෝප්පුවෙ, නැත්නම් එළිපත්තෙ පිළිකන්නෙ සැතපුනා. සැතපුනාට පස්සේ මාරයා දැක්කා මේක. දැකලා කල්පනා කලා දැන් රාහුලයන් භයකරන්න ඕන. එතකොට තාත්තට රිදෙනවා කියලා. ඊටපස්සෙ රාත්‍රියේ ඇවිල්ලා හොඬ දිග දළ තියෙන මහා භයංකාර මදකිපිච්ච හස්තියෙක් වගේ, කෑගහගෙන රාහුලයන් ඉදිරියේ ශබ්ද කලා. එතකොට බුදුරජාණන් වහන්සේ ගන්ධ කුටියේ ඉඳලා දේශනා කරනවා, ඔය රාහුලගේ ඇඟේ රෝම කූපයක්වත් හොලවන්න උඹට බෑ කියනවා. ඔය රාහුල නිකෙලෙස් කෙනෙක් කියනවා. එතකොට බලන්න ඒ කාලයේ සිද්ධ වෙච්චි දේවල්. එතකොට තව සිද්ධියක් ඒකත් එක්ක තියෙනවා. එතකොට ඒ ගාථාව දේශනා කරලා, ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ රාහුල කුටිය ඇතුලට එන්න කියලා එහෙම දේශනා කරන්නෑ. පුදුම සහගත දේ තමයි පන්සාලිස් වසරටම එකම එක දවසක්වත් භාග්‍යවතුන් වහන්සේගේ කුටියේ රාහුලයන්ට නිදාගන්න දීලා නෑ බුදුරජාණන් වහන්සේ. පුදුම සහගත දෙයක්. බුදුරජාණන් වහන්සේගේ සිහිපත් කිරීමෙන් බුදුරජාණන් වහන්සේගේ කුටියේ සැතපිලා තියෙනවා. ඒ තමයි සෝණ. බුදුකුටියේ සැතපුනු නිසා සෝණකුටිකන්න මහරහතන් වහන්සේ. පුදුම සහගතයි. රාහුල ස්වාමීන් වහන්සේ වැසිකිළියේ ඉඳලා තියෙනවා. ඒත් ගන්ධ කුටියට බුදුරජාණන් වහන්සේ ගන්නෙ නෑ. ඒක භාග්‍යවතුන් වහන්සේලාගේ නිකෙලෙස් බව. ඉතින් ඒ නිසා තමයි. දැන් ඒ වාගේ සිද්ධි තියෙන නිසා බුදුරජාණන් වහන්සේ රාහුලයන්වවත් ගන්ධ කුටියේ තියාගත්තෙ නැති නිසා ධාතූන් වහන්සේලා වැඩ ඉන්න විහාරයක ධාතු කුටියක, එහෙම සාමාන්‍යයෙන් මිනිස්සුන්ට ගිහිල්ලා ධාතු කුටියක නිදාගන්න ධර්මානුකූල අවසරයක් නෑ. එහෙම බුදු කුටියක් වෙන් කලා නම්, ධාතූන් වහන්සේලාට වෙන් කලා නම් ඒක පිරිසිදුව ඒක භාග්‍යවතුන් වහන්සේටම වෙන් කරලා තියන්න ඕන. රාහුලයන්වත් ඒ කුටියේ සැතපිලා නෑ. ඒ නිසා අද කාලෙ නොයෙක් ශ්‍රද්ධාව සහ නොයෙක් හේතු කාරණා මුල් කරගෙන නොයෙක් දේවල් සිද්ධ වෙනවා. ඉතින් ඒ වාගේ අඩුලුහුඬුකම් නිසා තමයි අපිට මාර්ගය වැඩෙන එක එක එක පැතිවලින් ප්‍රමාද වෙලා තියෙන්නෙ. ඉතින් අපි ඒවා තේරුම් ගන්න ඕන. අද ඉතින් අපි බුදුන් වඳින්න ශ්‍රද්ධාවෙන් බුදුන් වඳින්න ගත්තත්, බුදුන් වඳින එකයි, ටීවී එකයි, ඊළඟට මිනිස්සු ඇවිල්ලා වාතාවිච්චි කියන තැනයි ඔක්කොම එක තැනක්නෙ. ඔක්කොම එක තැනක්. උඩ බුදුකුටිය පහන තියන තැන, යට ටීවී එක. මෙහෙන් උඩට වඳිනවා, මෙහෙන් චිත්‍රපටි

බලනවා. ඔහොමනෙ ගෙවල් වල තියෙන්නෙ. ඉතින් ඒ නිසා මේවා ඔක්කොම මැඩ පවත්වාගෙන, ශ්‍රද්ධාවක් හිතට අරගෙන වාසය කරන්න ඉතින් ලොකු ශක්තියක් නුවණක් පින් බලයක් ඕන. දැන් මේක කිව්වට පස්සෙ අනේ එහෙනම් අපේ බුදු කුටිය තියෙන තැන හරි නෑ මෙහෙමයි කියලා එහෙම හිතන්න එපා, මොනවා කරන්නද. දැන් අද කාලෙ හැටියට බලනකොට එහෙමවත් බුදු පහන තියන එක වටිනවා. එහෙම ටීවී එක උඩ හරි බුදු පහන තියන එක වටිනවා. මොකද මොකක්වත් නැති ලෝකෙකට පොඩ්ඩක් තුණුරුවන් වදිනකොට ගෙදර ළමයෙක් එකතු කරගෙන, දැන් කන්න කට්ටිය ඔක්කොම එකතු වෙන්නෙ. ගමන් බිමන් යන්න කට්ටිය එකතු වෙන්නෙ. චිත්‍රපටි බලන්න කට්ටිය එකතුවෙන්නෙ. නාට්‍යය බලන්න කට්ටිය එකතු වෙන්නෙ. ඉතින් ඇයි මේ එහෙනම් කරණීයමෙත්ත සූත්‍රය කියලා බුදුගුණ ටිකක් කියලා ගාථා ටිකක් කියලා බුදුරජාණන් වහන්සේට වදින්න මේ පැය භාගයක් හමාරක් එකතු වෙලා, ගෙදර අයට එකතු වෙලා බුදුන් වදින්න බැනෙ. කල්පනා කරලා බලන්න. කොච්චර මේකවත් කරන්න බැරිවුනා නම් නිවනක් කොහොම දකින්නද. කොහොමද නිවන් දකින්නෙ. මේ කරුණු කාරණා තේරුම් ගන්න. ඉතින් ඒ නිසා අපි මේ බුද්ධ ශාසනේ අවසාන යුගයේ මේ ඉන්නෙ. ඔබට මතකයිද මීට කලින් අපි කරපු දහම් වැඩසටහනක, මයේ හිතේ ඒ සූත්‍ර දේශනාවේ තියෙනවා බුදුරජාණන් වහන්සේ වදාළා - පාථික සූත්‍රය – ඔබට දැන් සුභවිමෝක්ෂය, ඒ කියන්නෙ හිත ගොඩාක් දියුණු කරලා ලබන්න ඕන හිතේ යම්කිසි චිත්ත දියුණු අවස්ථාවක්. ඒ සුභවිමෝක්ෂය ඔබට ලබන්න බෑ ඒක දුෂ්කරයි. ඒ නිසා ඔබේ හිතේ ඇතිවුනු පැහැදීම රැකගන්න කිව්වා. ඒ නිසා දැන් මේ මාර්ග ඵල ඊළඟට සත්තිස් බෝධිපාක්ෂික ධර්ම ආදී ඒ සත්පුරුෂයන් ස්පර්ශ කරපු මහා කුසල ධර්මයෝ අද මේ කාමයෙන් අන්ධ වුනු මිනිස්සුන්ට හිතාගන්නවත් බැරි තරම් ඈතකට ගිහිල්ලා. ඒ නිසා අඩුම තරමේ බුදුරජාණන් වහන්සේට ධර්මයට තියෙන, සංඝරත්නයට තියෙන පැහැදීම, ඊළඟට තමන් රකින සීලය, ස්තූප බෝධි වන්දනා කරමින් රැස් කරගන්න පින, දන් පැන් දීමෙන් රැස් කරගන්න පින, දහම් කතාවෙන් රැස් කරගන්න පින, මේ ටික තමයි ඉතුරුව තියෙන්නෙ. ඒ ටිකත් නසාගන්න නම් එපා. ඒක නසන්න තමයි චෛත්‍යය හදන එකට බනිනවා, බෝධීන් වහන්සේලාට බනිනවා, පින්කම් වලට බනිනවා, පින් පව් කිව්වොත් බනිනවා, ඊළඟට තෙරුවන්ගේ ගුණ කිව්වොත් බනිනවා, ඕවා සරල වැඩියි කියනවා, දැන් බලන්න අපි කරන දේශනා ගත්තොත් මේ හැම දේශනාවක්ම, දැන් අද වෙනකොට අපි බුදුසරණේ

දේශනා හැත්තෑවක් කරලා තියෙනවා. ඒ දේශනා හැත්තෑවම සූත්‍ර දේශනා ඇසුරෙන් කළේ. එතකොට කවුරුහරි කිව්වොත් එහෙම එයා කියන විකාර කියලා ඒ බුදුරජාණන් වහන්සේටයි ඒ අභියෝගය, ඒ ගැරහීම, ඒ අවමානය කරන්නෙ. ඒකයි ධර්මය කියන කෙනෙකුට ගරහන එක එච්චර පාපයක් වෙන්නෙ. එච්චර විශාල පාපයක් වෙනවා. මොකද ඔහු ධර්මය කියන නිසා. එතකොට ඒ වාගේ පව් මිනිස්සු රැස් කරගන්නවා. ඉතින් මේවගෙන් බේරිලා බේරිලා සුළු පිරිසක් තමයි නිදහස් වෙන්නෙ. සුළු පිරිසක් එතෙර වෙන්නෙ. ඉතින් ඒ නිසා අප්පකාතෙ මනුස්සෙසු යෙ ජනා පාරගාමිනො අපායං එතෙරාපජාති මෙවඅන්දාවති, සුළු පිරිසක් විතරයි එතෙර වෙන්නෙ. අනික් සියලු දෙනාම මෙතෙරම සැරිසරනවා. ඒ නිසා එතෙර යෑම පිණිස දිවිහිමියෙන් නිවන් දකිනතුරු බුදුරජාණන් වහන්සේ සරණ යන්න. දිවිහිමියෙන් නිවන් දකිනතුරු ශ්‍රී සද්ධර්මය සරණ යන්න. දිවි තිබෙනතුරු නිවන් දකින තුරු ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. ඒ උතුම් තිසරණය ඔබව නිවනට පමුණුවත්වා.

ඉතින් අද දවසේ සම්බුදු සරණ දහම් වැඩසටහනින් රැස් කරගන්නට යෙදුනාවූ සියලුම පුණ්‍ය ධර්මයන් අපි අනුමෝදන් කරනවා සියලු දෙවියන්ට. දෙවියෝ අනුමෝදන් වෙත්වා. මියපරලොව ගිය ඥාතීන්ටද අනුමෝදන් වෙත්වා. ඒ වගේම අපිට මේ ගෞතම බුද්ධ ශාසනයේ මේ දහම් හඬ, මේ දහම් කතාව අපිට ඇති කරලා දුන්නු අපගේ පරම පූජනීය, ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක්වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තියම ලබත්වා, සකල සඟරුවන අනාගාරිකා මෑණිවරු, පැවිදි අපේක්ෂක දූපුතුන් ධර්මාවබෝධයම ලබත්වා කියලා පින් පමුණුවනවා. අද ඉතාලියේ මිලානෝ නගරයේ පදිංචි පින්වත් ප්‍රසාද් ශානුක මහත්මයා සහ කාංචනා සුදර්ශනී සහෝදරිය තමයි දායකත්වය දැරුවේ, ධර්ම දායකත්වය. ශාක්‍ය මේඝවර්ණ, රයන් චමෝද්‍ය, ඒ වගේම ඩියෝන් චවික යන පුතුන් තිදෙනාට සත්පුරුෂ ඇසුර සහ උතුම් චතුරාර්ය සත්‍යය ධර්ම අවබෝධයට මේ පින හේතු උපකාර වේවා කියලා පින් පමුණුවනවා. සුරංග මහත්මයා, ප්‍රසාද් මහත්මයාට, ශ්‍යාමලී මහත්මිය ඇතුලු ඔවුන්ගේ සුජීවත්ව සිටින දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා. ඒ වගේම ප්‍රසාද් ශානක, කාංචනා සුදර්ශනී, ඉතින් ඒ දෙපළටත් මේ පින් අනුමෝදන් වෙත්වා. ඔබ අප කාටත්, මව් දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන්ට ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වෙත්වා. සියලු දෙනාට

උතුම් තුණුරුවන් සරණින් ගෞතම සසුනේ පිහිට ලබාගෙන දුකින් නිදහස් වෙන්න මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=v-G0X2PQZwc&list=PLalyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=70

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සමඟ ඔබ මේ ශ්‍රවණය කරන්නට සූදානම් වෙන්නෙ. බොහෝ කාලයක ඉඳලා තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ උතුම් සම්බුදු ජීවිතය පිළිබඳවයි මේ කතා කරන්නෙ. මේ කාලෙ අපි කතා කරන්නෙ බුදුරජාණන් වහන්සේ කෙනෙක් ලෝකයේ පහළ වෙනවාට විරුද්ධ වූ බුදු කෙනෙක් ලෝකයේ පහළ වෙනකොට අනිවාර්යයෙන්ම ජයගත යුතු වූ මේ ලෝකයේ යම් බලවේගයක් පිළිබඳව බුද්ධ දේශනාවෙ තියෙන තොරතුරු තමයි අපි කතා කරන්නෙ. එතකොට අද දවසේ අපි තවත් විස්තර කතා කරනවා. ඉතින් ඒ ධර්ම දේශනාව ඔබට සමීප කරවන්නේ, මාධ්‍යයෙන් ශ්‍රද්ධා රූපවාහිනියෙන්, ලක්විරු ගුවන් විදුලියෙන් විකාශනය කරවන්න දායකත්වය දරා තිබෙන්නේ පින්වත් ප්‍රියංකර මහත්මයා සහ ශානිකා මහත්මිය විසින්. මියපරලොව ගිය ආනන්ද ගුණවර්ධන පියාණන්ට පින් අනුමෝදන් කරන්නටත් සුජීවත්ව සිටින අයට සෙත් ප්‍රාර්ථනා කිරීමත් මුල් කරගෙන තිබෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ නමකගේ උතුම් ශ්‍රී සද්ධර්මය අන් අයට ශ්‍රවණය කරන්නට අහන්න

සළස්වන එක මේ ධර්ම දානය අප්‍රමාණ පුණ්‍යස්කන්ධයක් ජීවිතයට එකතු කරනවා. ඉතින් ඒ නිසා ධර්ම දානය දෙන පින ඔබ සතුටින් අනුමෝදන් වෙන්න. ඉතින් ඒ පහන් සිතින්ම ධර්මය ශ්‍රවණය කරන්න. මතකද මීට කලින් අපි ගාථාවක් වදාළා වැඩසටහන අප්පකත්තෙ මනුස්සෙසු යෙ ජනා පාරගාමිනො අථායං ඉත්තරාපජා ථෙවමෙව අනුධාවති, අප්පකත්තෙ මනුස්සෙසු, ඉතාමත් සුලු පිරිසයි මේ මිනිස්සුන් අතර යෙ ජනා පාරගාමිනො, එතෙර වෙන්නෙ. අතායං ඉත්තරාපජා ථෙවමෙව අනුධාවති, ඉතුරු සියලු දෙනාම නිතරම සැරිසරනවා. එතකොට මේ බලන්න අපි මේ ධර්ම දේශනාවක් වුනත් මිනිස්සු අතරට යද්දි බණ ටිකක් අහන්නෙ ඉතාමත් සුළු පිරිසක්. මේ බුදු සරණ ධර්මය ඇහුවත් ඒත් සුලු පිරිසක්. ඊළඟට කොහොමටත් ධර්ම දේශනාවක් කලොත් සුලු පිරිසක්. මොනවහරි විහිළු කතා, කුණුහරුප, මොනවාහරි තියෙනවා නම් ඕපාදූප, දේශපාලනය ඉහළින් අහනවා. මොනවාහරි යක්කු යක්ෂණීන්ගේ කතා, සින්දු, හොඳට අහනවා. නමුත් සසරින් එතෙර කරවන දුක් දුරු කරවන ධර්මයක් කිව්වොත් සුළු පිරිසක් අහන්නෙ. එහි නෑ පුදුම වෙන්න දෙයක්. පොඩ්ඩක් වත් පුදුම වෙන්න දෙයක් නෑ, අප්පකාතේ මනුස්සෙසු යෙ ජනා පාරගාමිනො, එතෙර වෙන්නෙ සුලු පිරිසයි. ඒ නිසා මේ එක එක්කෙනා ගැන කිය කියා ඉන්නවාට වැඩිය ඊළඟට මේ කාරණාව, දැන් මේ අපි මාර සංයුත්තය ඉගෙන ගන්නෙ, මේවා ගෙවල් වල කතා වෙලා මෙහෙම කෙනෙක් ඉන්නවලු, අපේ ගෙදරටත් එයිද දන්නෑ, රෑට ඇවිල්ලා ඇතෙක් විදියට පෙනී ඉදියිද දන්නෑ. නයෙක් විදියට පෙනී ඉදියිද දන්නෑ කිය කියා මේ නිකං විකාර කතා කිය කියා මනස්ගාතවල, මනෝ ලෝකෙක තනි වෙන්න එපා. මේ ධර්මය දේශනා කරන්නෙ තේරුම් ගන්න. මේ ලෝකයේ මෙහෙම දෙයක් තියෙනවා. අද කාලේ ගෙවල් වලට මාරයා මේ බුදු කෙනෙක් ඉදිරියට ආවා වගේ එහෙම එන් නෑ. එහෙම එන්න උවමනාවක් නෑ. ඒ කියන්නෙ දස මාර සේනාවගෙන්ම ගුටි කාලා එහෙම්ම නැගිටගන්න බැරිව පෙරේතයා පොළොවේ ගැහුවා වගේ මිනිස්සු වැටිලා ඉන්නෙ. කාමයෙන් වැටිලා ඉන්නෙ. අරතියෙන් තෘෂ්ණාවෙන් ගුණමකුකමින්, නිදිමතෙන්, විචිකිච්ඡාවෙන් වැටිලා ඉන්නෙ මිනිස්සු. ආයෙ ඒකට මහ එක්කෙනෙක් එන්න උවමනාවක් නෑ. එතකොට අපි මේවා තේරුම් අරන්, ටික ටික තේරුම් අරන් සරණ තුළ පිහිටන්න ඕන. ඒ පිණිස තමයි මේ ධර්මය උගන්වන්නෙ. නැත්නම් ගෙවල්වල අය භය කරන්නවත්, පොඩි එවුන් භය කරන්නවත් ඔයාලගේ චින්තනය වෙනස් කරන්නවත් එහෙම නෙවෙයි. සත්‍යය තේරුම් ගැනීම පිණිස. එතකොට අද දවසේ අපි මේ කතා කරනවා

බලන්න බුදුරජාණන් වහන්සේට රිද්දලා රිද්දලා රිද්දලා බැරි තැන එහෙම කරගන්න බැරි තැන, එහෙම බැරිතැන ඊළඟට අල්ලගන්නවා ශ්‍රාවකයො. ගිය පාර අපි මතක් කලා රාහුලයන් වහන්සේව රිද්දන්න හදපු හැටි, තාත්තව රිද්දන්න. දැන් ශ්‍රාවකයො රිද්දවනවා ශාස්තෲන් වහන්සේ රිද්දන්න. ඒ දවස්වල බුදුරජාණන් වහන්සේ ශාක්‍ය ජනපදයේ ශිලාවතී කියන ගමේ වැඩ හිටියා. බොහෝ භික්ෂූන් වහන්සේලා බුදුරජාණන් වහන්සේ ඇසුරින් ධර්මය ඉගෙන ගෙන බොහොම වෙර වීරියෙන් අප්‍රමාදීව භාවනාවෙ හිටියෙ. එදා පවිටු මාරයා බ්‍රාහ්මණයෙකුගේ වේශයක් මවා ගත්තා. හිසේ ලොකු ජටාමඩුලු දරාගෙන තිබුනා. අඳුන් දිවිසමක් පොරවාගෙන හිටියා. ගොඩාක් වයසයි, කුදු ගැහිලා. ගුරු ගුරු හඬින් හති දම දමා - ගුරු ගුරු හඬින් හති දම දමා කියන්නෙ ඇදුම හැදුනට පස්සෙ ගොර ගොර ගාලා හුස්ම යන්න එන්නෙ. ඒ විදියට හති දම දමා දිඹුල් හැරමිටියක් අරගෙන, ඒ භික්ෂූන් වහන්සේලා ළඟට ආවා. දැන් මේකෙන් තේරෙන්නෙ ඔය හැරමිටියක් අරගෙන ඔය විදියට ඉන්නෙ පුරාණ බමුණො. ඉතින් ඇවිල්ලා අවහෙලා කතා කරනවා. කොහොමද, අනේ මේ පින්වත් දරු පැටව් නෙව පැවිදි වෙලා ඉන්නෙ. ඔය තාම අපූරුවට කළු කෙහෙ තියෙන්නෙ. සුන්දර යෞවන කාලෙ නෙව. ජීවිතේ ප්‍රථම වයස නෙව. කම් සැපයේ යෙදිලා නෑ නෙව. අනේ භවත්නි එහෙම නෙවෙයි, මනුස්ස ලෝකෙ විඳින්න තියෙන කම් සැප විදලා ඉන්න. මේ ජීවිතේ විඳින්න තියෙන සැප අත්හැරලා කාලෙකට විතරක් ලැබෙන දෙයක් පිටිපස්සෙ දුවන්න එපා. ඔය අනාගතේ ලැබෙන දේවල් ගැන හිත හිතා නිකං තරුණ කාලෙ නාස්ති කරගන්න එපා කිව්වා. ඊටපස්සෙ සංඝයා කියාහිටිනවා නෑ පින්වත් බ්‍රාහ්මණය අපි මේ ජීවිතේ විඳින්න තියෙන කම්සැප අත්හැරලා කාලෙකට පස්සෙ ලැබෙන දෙයක් හොයාගෙන දුවනවා නෙවෙයි. පින්වත් බ්‍රාහ්මණය අපි අත්හැරියෙ කාලයකට පස්සෙ ලැබෙන දේවල්ම තමයි. ඒ කියන්නෙ, කාලයට අයිති දේවල්. අපි දැන් මේ දුවන්නෙ මේ ජීවිතේ ලබාගන්න සැපයකටමයි. පින්වත් බ්‍රාහ්මණය භාග්‍යවතුන් වහන්සේ වදාළේ ඔය කාමයන් තාවකාලිකයි කියලා, ගොඩාක් දුක් තියෙනවා කියලා. ගොඩාක් කරදර තියෙනවා කියලා. ඔය කාමයේ ආදීනව ගොඩාක් තියෙනවා කියලා. නමුත් මේ ධර්මය මේ ජීවිතයේදීම අත්විඳින්න පුලුවන් දෙයක්. අකාලිකයි. ඇවිත් විමසා බලන්න පුලුවන්. තමා තුළින් දකින්න පුලුවන්. නුවණැත්තන්ට තම තමන්ගේ නුවණේ හැටියට අවබෝධ කරගන්න පුලුවන්. එතකොට පවිටු මාරයා ඔලුව හොල්ලලා, දිව දික් කරලා පැද්දුවා. නළලේ තුන් පොටක් රැලි නැග්ගුවා. ඇහි බැම හැකිලුවා. හැරමිටිය එල්ලගෙන ආපහු ගියා.

බලන්න සංඝයා කියන කතා. දැන් බලන්න කාමයේ දුක් තියෙනවා, කරදර ගොඩයි. ඒ සංඝයා ඒවා කිව්වෙ බුදුරජාණන් වහන්සේ එසේ වදාළා කියලා. බුදුරජාණන් වහන්සේ විසින්. බුද්ධ වචනය ඉස්සරහට ගත්තා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ ළඟට මේ භික්ෂූන් වහන්සේලා ගිහිල්ලා කියා හිටිනවා ස්වාමීනී, මෙහෙම බමුණෙක් ආවා කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා නෑ මේ පින්වත් මහණෙනි, ඔය පුද්ගලයා බ්‍රාහ්මණයෙක් නෙවෙයි. ඔය තමයි පවිටු මාරයා. ඔබගේ නුවණැස වහන්න, හිත අවුල් කරන්නයි ඔය ආවෙ කිව්වා. ඉතින් බලන්න දැන් ඔන්න අර හොඳට දහමේ යෙදිලා, සතර සතිපට්ඨානයේ යෙදිලා ඉන්නකොට තමයි ඇවිල්ලා කාමයන් ගැන කිව්වෙ. ඔය වගේ අදටත් හොඳට බණ භාවනා කරගෙන ධර්මය කියමින් දහම තුළ හිත පිහිටුවාගෙන ඉන්නකොට කොහෙන් හරි ඇවිල්ලා ස්මාට් ෆෝන් එකක් හරි දෙනවා. එහෙම නැත්නම් කොහෙන් හරි ඔන්න අඟර දඟර දාගෙන ස්ත්‍රියක් ඇවිල්ලා අඟර දඟර දානවා. ඔය වාගේ ඇවිල්ලා ඒ ධර්මයේ හැසිරෙන කෙනාගේ මාර්ගය සම්පූර්ණයෙන් වහලා දානවා. එදා බුද්ධ කාලයේ බුදුරජාණන් වහන්සේ සිරිපා තිය තියා මිහිමඬලේ වැඩියා වගේම අරයත් පොළොවටම අඩිය තිය තියා හැමතැනම ගියා. අද කාලේ කෙලෙස් වලින් බැට කන නිසා එයාට පොළොවට අඩිය තියන්න උවමනාවක් නෑ. සේනාව හරහා එවනවා. ඔය විදියට කොච්චර හොඳ හාමුදුරුවරු, කොච්චර හොඳ යෝගාවචරයන්ගේ හිත් වෙනස් වෙලා ගියාද. කොච්චර හිත් වෙනස් වුනාද. මහා වනාන්තරයේ තනියෙන් යෝගාවචර දහමේ යෙදෙන තෙරුන් වහන්සේලාට කොච්චර අනතුරු ධර්මයෝ තියෙනවාද. ඉතින් ඒ නිසා මේවා කරුණු කාරණා තේරුම් ගන්න ඕන. සංඝයා අතර හිටපු කෙනෙක් නම් කෙනෙක් වැටෙනකොට තවත් කෙනෙක් උපකාරයක් හරි කරන්න පුලුවන්. දැන් මේ සංඝයාත් මෙහෙම දෙයක් වුනා කියලා බුදුරජාණන් වහන්සේට ගිහිල්ලා කියනවා. එතකොට බුදුරජාණන් වහන්සේ තමයි ඒක විස්තර කරලා දෙන්නේ. අද කාලේ කම්කටොළු එනකොට අඩුම තරමේ සෑයක් බෝධියකටවත් වැඳලා දිවිපූජා කරලා ගුරුහරුකම් ගන්න තමන්ට පිහිටක් හදාගෙන තිබ්බෙ නැත්නම් ගොඩාක් අය තනියෙන් වැනසෙනවා. මේ බලවේග ගැන තේරෙන්නෙ නැති නිසා. අපි ඉතින් නොයෙක් හේතු කියයි, මෙහෙම හිටියෙ හොඳ හාමුදුරු නමක්, මෙහෙම නැතිවුනා, මෙහෙම හොඳට බණ කිය කියා හිටපු කෙනෙක් නැතිවුනා. මෙහෙම භාවනා කරපු කෙනෙක් නැතිවුනා. අපි ඉතින් මොනවා කිව්වත් ඒ අය ඒ තත්ත්වෙට ඇදලා දාන්නෙ මේ තියෙන

බලවේග වල ස්වභාවත් එක්ක. යම්කිසි කෙනෙක් දහම පුරුදු කරනවා කියලා දැනගත්තාද එයාට වැටෙන්නම ගහනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ සංඝයාට දේශනා කරනවා, යම් කෙනෙක් මේ පඤ්චකාමයන් මුල් කරගෙන දුක හටගන්න බව දැක්කොත් ඒ කෙනා පඤ්චකාමයන්ට හිත යොමු කරන්නේ කොහොමද. මේ ලෝකයේ පඤ්චකාමය කියන්නෙ කෙලෙස් වලට බව දන්න කෙනා ඒකෙ ආසාව දුරු කරන්නමයි පුරුදු වෙන්නෙ කිව්වා. පඤ්චකාමය තමයි කෙලෙස් කියන්නෙ. ඇහෙන් දකින රූප වලට හිත ඇදිලා, හිත කැළඹෙන එක. කණෙන් ඇහෙන ශබ්ද වලට හිත ඇදී ගිහිල්ලා හිත කැළඹෙන එක. නාසයෙන් දැනෙන ගඳ සුවඳ වලට හිත ඇදී ගිහිල්ලා හිත කැළඹෙන එක. දිවට දැනෙන රසයට හිත ඇදී ගිහිල්ලා හිත කැළඹෙන එක. කයට දැනෙන පහසට හිත ඇදී ගිහිල්ලා හිත කැළඹෙනවා. නැවත නැවත එයම සොයනවා. මේක තමයි කෙලෙස් මේකෙන් දුක හටගන්න බවත්, සසර හටගන්න බවත් දන්නවා නම් ඕවට ආයෙ ඇලෙන් නෑ කියලා කිව්වා. මේකෙ තව එකක් තියෙනවා. ඒක තමයි සංඝයා මේ බලවේගය ජයගත්තෙ මෙතන, ඔහුව පලවා හැරියෙ බුද්ධ වචනය ඉස්සරහට දාලා. සංඝයා කිව්වෙ නැනෙ අපිට තේරෙනවා මේ කාමය දුක් සහිතයි, එහෙම කියලා කිව්වෙ නෑ, භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාලා. එහෙනම් අවංකවම ධර්මයේ හැසිරෙන කෙනයි බුද්ධ වචනය ඉස්සරහට ගන්න කෙනයි බේරෙනවා. දැන් එතකොට තමන්ගේ දෙයක් ඉස්සරහට ගත්තොත් තම තමන්ට හිතෙන දේවල්, ගොඩාක් යෝගාවචරයන්ට වරදින්නෙ ඔතනනෙ. බණ භාවනා කරලා දහමේ හැසිරෙන්න උත්සාහ කරනකොට එයා ධර්මය විස්තර කරනකොට තමන්ගේ දේ ඉස්සරහට ගන්නවා. ගන්නකොට අරයට පුලුවන් ලස්සනට අල්ලන්න එයාව. ඒකනේ භාවනා කරනකොට එක එක දේවල් අර්ථකතන දීලා වචන කඩ කඩා දාලා, බුදුරජාණන් වහන්සේ ඉපදුනු තැන මෙහෙම කියලා හිත අල්ලලා ඔක්කොම ඒ දෘෂ්ටි දාන්නෙ. දැන් ඔය දෘෂ්ටි වල බැසගත්ත අය එහෙම මිනිස්සු මුලා කරන්න ඕන කියලා හිතලා ප්ලෑන් කරලා කරනවා නෙවෙයි. එයාලට පේන දේ දැනෙන දේ තමයි ඔය කියන්නෙ. නමුත් එයාලට පේන්නෙ දැනෙන්නෙ අර බලවේගය විසින් හිත අල්ලපු නිසා. බුදුරජාණන් වහන්සේ වදාළ වචන බුද්ධ කාලයේත් සංඝයා බේරුනේ බුදුරජාණන් වහන්සේ, මොකද බුදුරජාණන් වහන්සේ තමයි සියලුම දේවල් ජයගත්ත උත්තමයා. ඒ නිසා මේක තේරුම් ගන්න. ධර්මය කියා දීලා වුනත් බේරෙන්න පුලුවන් එකම ක්‍රමය බුදුරජාණන් වහන්සේව ඉස්සරහට ගැනීම තුළින්. ඔබ ධර්මයේ හැසිරෙන එක අවබෝධයක්

කරා යන්නෙ බුදුරජාණන් වහන්සේගේ වචනයම ඉස්සරහට ගැනීම තුලින්. හැම වෙලාවෙම බුදුරජාණන් වහන්සේ කුමක් වදාළ සේක්ද, බුදුරජාණන් වහන්සේ කුමක් වදාළ සේක් ද කියලා තමන්ට ශාස්තෘන් වහන්සේ නමක් තියාගන්න. ඉතින් අපි බලමු තව මොනවද වෙලා තියෙන්නෙ කියලා. ඒ දවස්වල භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටියේ ශාක්‍ය ජනපදයේ ශිලාවතී ගමේ. දැන් අර කාලෙමයි. ඒ දවස්වල සමිද්ධි තෙරුන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේට නුදුරින් කෙලෙස් තවන වීර්යයෙන් දහමට දිවි පුදා අප්‍රමාදීව වාසය කරමින් බණ භාවනා කරමින් හිටියා. සමිද්ධි තෙරුන් වහන්සේට භාවනාවෙන් ඉන්නකොට මේ දහම ගැන ප්‍රීතිය ඇතිවෙනකොට හිතුනා අනේ මට කොයිතරම් ලාභයක් ද, අනේ මට කොයිතරම් හොඳ ලැබීමක්ද, මගේ ශාස්තෘන් වහන්සේ අර්හත් වූ සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක්නෙ. අනේ මට කොයිතරම් ලාභයක් ද, මට කොයිතරම් හොඳ ලැබීමක්ද මේ වගේ ඉතා යහපත් ලෙස දේශනා කොට වදාළ ධර්ම විනය තියෙන ශාසනයක මට මහණ වෙන්න ලැබුනානෙ. අනේ මට කොයිතරම් වාසනාවක්, කොයිතරම් ලාභයක්ද, හොඳ ලැබීමක්ද මට ඇසුරු කරන්න ලැබුනු සබ්‍රහ්මචාරීන් වහන්සේලා කළ්‍යාණ දහමින් යුතු සිල්වතුන් වහන්සේලානෙ. කියලා බලන්න ධර්මය මුල් කරගෙන, ශාස්තෘන් වහන්සේ මුල් කරගෙන පැවිද්ද මුල් කරගෙන, තව පැවිදි සහෝදරයො මුල් කරගෙන ප්‍රීතිය උපදවනවා, ලාභයක් මට කියලා. ඒ මොහොතේ පවිටු මාරයා ආයුෂ්මත් සමිද්ධි තෙරුන්ගේ හිතේ කල්පනාව දැනගෙන හිතුවා මේ සමිද්ධි තෙරුන්ගේ හිත අවුල් කරන්න ඕන කියලා. පොළොව පෙරළෙනවා වාගේ මහා ශබ්දයක් ඇති කලා. එතකොට සමිද්ධි තෙරුන් භාග්‍යවතුන් වහන්සේ ළඟට ගිහිල්ලා වන්දනා කලා. ස්වාමීනී මං මෙහෙම කල්පනා කලා. එතකොටම මේ මහපොළොව පෙරළෙනවා වගේ සද්දයක් ඇහුනා. නෑ පින්වත් සමිද්ධි, ඒ පොළොව පෙරෙළනවා නෙවෙයි. ඒ තමයි පවිටු මාරයා. ඔබගේ නුවණැස වසා දමන්ටයි ඔය ආවෙ. පින්වත් සමිද්ධි ඔබ එතනට යන්න. කෙලෙස් තවන වීර්යයෙන් දහමට දිවි පුදා අප්‍රමාදීව එහිම වාසය කරන්න කිව්වා. ඔය හිටපු තැනම ඉන්න කිව්වා. දැන් බලන්න සමිද්ධි තෙරුන් බේරුනේ, භය වුන් නෑ, ශාස්තෘන් වහන්සේ කරා ගියා. භය වුනා නම් අල්ලනවා. ඊළඟට තමන් ඒක විග්‍රහ කරගත්තා නම් අල්ලනවා. ඊටපස්සෙ වුනේ සමිද්ධි තෙරුන් ගිහිල්ලා අර විදියටම ආපහු භාවනාවෙන් හිටියා. ඉන්නකොට ආයෙත් හිතට එනවා මට බුදුරජාණන් වහන්සේ නමක් ලැබුනා, ශාස්තෘන් වහන්සේ විදියට. මිහිරි ශ්‍රී සද්ධර්මයක් ලැබුනා, මට මේ ශාසනයේ මහණ වෙන්න ලැබුනා. මට

සබ්‍රහ්මචාරීන් වහන්සේලා ඇසුරු කරන්න ලැබුනා, කියලා ඔහොම හිත හිතා ඉන්නකොට ආයෙත් අර විදියට විශාල ශබ්දයක් ඇති කලා. ඒ වෙලාවෙ අඳුරගත්ත මේ අහවලා, මං ගිහි ජීවිතේ අතහැරලා බුද්ධ ශාසනයේ මහණ වුනේ ශ්‍රද්ධාවෙන්මයි. උන්වහන්සේ කියා හිටිනවා. මම සිහියත් ප්‍රඥාවත් අවබෝධ කරලයි ඉන්නෙ. මගේ හිතත් හොඳට සමාධිමත් වෙලා තියෙන්නෙ. ඔය විකාර දේවල් ඕන තරම් කරන්න, මට පීඩාවක් ඇතිකරන්න හම්බෙන්නෑ. මේ වෙනකොට සමිද්ධි තෙරුන් අර්හත්වයට පත්වෙලා. බලන්න අර්බුදය ඇතිවෙච්චි තැන, උන්වහන්සේ එතනින් නිදහස් වුනා බුද්ධ කාලෙ. එතකොට මං මේක කියවනකොට කල්පනා කලේ සමිද්ධි තෙරුන්ගේ නුවණැස වහන්න ඕන කියලා නුවණැස විදියට දැක්කේ ශාස්තෘන් වහන්සේගේ ශ්‍රේෂ්ටත්වය හිතට එන එක. ධර්මයේ ශ්‍රේෂ්ටත්වය හිතට එන එක. මහණ කමේ ශ්‍රේෂ්ටත්වය හිතට එන එක. සබ්‍රහ්මචාරීන් වහන්සේලා එක්ක ඉන්න ලැබීම කොච්චර එකක්ද කියලා මේ සිල්වත් සංඝයානෙ කියලා හිතට එන එක. ඒක තමයි නුවණැස කියලා දැක්කෙ ඔහු. එහෙනම් මේක තමයි වනසන්න හිතුවෙ. එහෙනම් අද කාලෙත් වනසනවා නම් වනසන්නෙ ශාස්තෘන් වහන්සේගේ ශ්‍රේෂ්ටත්වය හිතට එන එක වළක්වනවා. ශාස්තෘන් වහන්සේ ශ්‍රේෂ්ටයි කියන එක හිතට එන එක වළක්වනවා. ධර්මය හිතට එන එක වළක්වනවා. පැවිදි බව ශ්‍රේෂ්ටයි කියන එක හිතෙන්නේ මොන කරුමයක්ද මේ මහණ වෙලා සිවුරක් දාගෙන විඳින දුක කියලා හිතෙනවා. ඊළඟට සබ්‍රහ්මචාරීන් වහන්සේලා, එකට ඉන්න සංඝයා වහන්සේලා ගැන සැක කුකුස් උපද්දවනවා. හාමුදුරුවන්ගේ වැරදි පේන්න ගන්නවා. දැක්කද අල්ලන තැන්. දැන් ශාස්තෘන් වහන්සේගේ ශ්‍රේෂ්ටත්වය, කොහොමද දැන් අපි කියමුකො ඔන්න බුදුන් උපන්නේ ලංකාවේ කියලා කතා කරන අය කියනවා, ධර්මාශෝක රජ්ජුරුවො මේ ඉතාමත් තියුණු ලෙස බුදුරජාණන් වහන්සේ ඉපදිච්චි තැන ඉන්දියාවට ඉපදුනා කියලා ලංකාවෙන් මේක බැහැර කලා කියලා. එතකොට එයා බලන්න එයා නොදැනගෙන කරන දේ, ඒ තමයි බුදු කෙනෙක්, සාරාසංඛෙය්‍ය කල්ප ලක්ෂයක් පෙරුම් පිරූ කෙනෙක් ඉපදුනු ධර්මය දේශනා කරපු, පිරිනිවන් පාපු, ඊළඟට සම්මා සම්බුදු වුනු ඒ ස්ථාන ටික දඹදිවට ආරෝපණය කරන්න තරම්, ඒක ඉතිහාසයෙන් මකලා දාන්න තරම් ධර්මාශෝක රජ්ජුරුවො එච්චර චතුරයි නම් දක්ෂයි නම් මේ බුදු කෙනෙකුට වැඩිය දක්ෂයිනෙ ධර්මාශෝක රජ්ජුරුවො. ඉතිහාසෙන් ඒක නැති කරලා දාන්න තරම්. එතකොට දැක්කද බුදුරජාණන් වහන්සේගේ ශ්‍රේෂට බව හිතට ආවෙ නෑ. බුදුරජාණන්

වහන්සේගේ ශ්‍රේෂ්ට බව හොඳට ප්‍රකට වෙනවා දඹදිව සතරස්ථාන වලින්. සම්පූර්ණයෙන් මුළු ඉන්දියාවම මුස්ලිම්වරු ආක්‍රමණය කලා. මුළු ඉන්දියාවම අද හින්දු. නොයෙක් ආගම් වලින් සාධුවරුන් ආක්‍රමණය කලා. නොයෙක් දහම තියෙද්දි, බුදුරජාණන් වහන්සේ ඉපදුනු තැන අදටත් ඒ විදියට තියෙනවා බෞද්ධයන්ට වදින්න පුලුවන් විදියට. අදටත් සම්බුදු වුනු වජිරාසනය බෞද්ධයන්ට වදින්න පුලුවන් විදියට තියෙනවා. අදටත් බාරාණසියේ ඉසිපතනය තියෙනවා බෞද්ධයන්ට වදින්න පුලුවන් විදියට. අදටත් කුසිනාරාව වදින්න පුලුවන් විදියට තියෙනවා. අදටත් දෙව්රම වදින්න පුලුවන් විදියට තියෙනවා. ඉතින් ඒකම නෙවෙයිද බුද්ධානුභාවය. මෙච්චර දේවල් විනාශ කරපු. මුළු ඉන්දියාවම හින්දු වෙලා. ඒකයි බුද්ධානුභාවය. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ ශ්‍රේෂ්ටයි. එතකොට බලන්න බුදු කෙනෙක් ශ්‍රේෂ්ටයි කියලා හිතන එක, පැවිදි ජීවිතය ශ්‍රේෂ්ටයි කියලා හිතන එක, සබ්‍රහ්මචාරීන් වහන්සේලා සිල්වත් කියලා හිතන එක ශ්‍රේෂ්ට සිතිවිලි. නුවණක්කාර සිතුවිලි. ඒ වාගේ සිතුවිලිවලටත් ලෝකයට ධර්මයට අකැමැති බලවේග කැමැති වත් නෑ ඒ හිත් තමයි වෙනස් කරන්නෙ. කෙනෙක් මහණ වෙලා සිවුරු හරිනවා නම් බුදු කෙනෙක් ගැනමයි සැකය උපදින්නෙ. ඊළඟට මහණ වෙලා සිවුරු හරිනවා නම් සබ්‍රහ්මචාරීන් වහන්සේලාත් එක්ක ප්‍රියමනාප නෑ. ඊළඟට සිවුරු හරින්නෙම මහණ කම ගැන කළකිරිලා. එහෙනම් තමන් ධර්මය පුරුදු කරනවා නම්, දහමෙන් තමන්ට පිහිටක් ලැබෙනවා නම් ඇත්තටම බුදුරජාණන් වහන්සේ ශ්‍රේෂ්ට බව දැනෙන්න ඕන. ධර්මය ශ්‍රේෂ්ට බව දැනෙන්න ඕන. පැවිදි ජීවිතය ශ්‍රේෂ්ට බව දැනෙන්න ඕන. ඒ වාගේම සිල්වතුන් ගුණවතුන්ගේ ශ්‍රේෂ්ට බව දැනෙන්න ඕන. ඉතින් ඒකෙන් ඒ කරුණු කාරණා තේරුම් ගන්න. ඊළඟට තවත් අපූරු සිද්ධියක් වෙලා තියෙනවා ඒ කාලෙ. ඒ කාලෙ අපගේ භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටියේ වේළුවනාරාමයේ. ඒ දිනවල ආයුෂ්මත් ගෝතික තෙරුන් වහන්සේ ඉසිගිලි පර්වතය පාමුල කාලසිලා කියලා ගල්තලාවක් තියෙනවා. ඒ ගල්තලාවේ දැන් ඉන්දියාවේ ඉසිගිලි පර්වතයට යන්න හොඳට පාර හදලා තියෙනවා. කලින් අවුරුදු වල ඒක තිබ්බෙ නෑ, දැන් හදලා තියෙන්නෙ. පහසුවෙන් ඉසිගිලි වලට ගියැකි. ඉතින් ඉසිගිලි වලට ගියාම හැමතැනම පේනවා. ඊටපස්සෙ ඒ ඉසිගිලි පර්වතය පාමුල තියෙනවා ගල්තලාවක්, කාලසිලා. ඉතින් කාලසිලා ගල් පර්වතය ළඟ වාසය කලා ගෝතික තෙරුන්. උන්වහන්සේ එක් භාවනාවක හොඳට වෙර වීරිය කරලා භාවනා කරනකොට ලෞකික සමාපත්තියක් උන්වහන්සේට ඇතිවුනා. ඉතින් උන්වහන්සේ

ඉතාමත් කැමැත්තෙන් ලෞකික සමාපත්තිය දියුණු කරද්දි, අනේ ටික දොහකින් ඒක පිරිහුනා. ආයෙත් ඇතිවෙන්නෑ ඒ සමාපත්තිය, සමාධිය. ඊටපස්සෙ ආයෙ බණ භාවනා කරගෙන ඉන්නකොට කාලයක් යනකොට ආයෙ ඇතිවුනා සමාපත්තිය. ආයෙ ටික දොහකින් නැතිවුනා. තුන්වෙනි වතාවටත්, හතරවෙනි වතාවටත්, පස්වෙනි වතාවටත්, හයවෙනි වතාවටත් නැතිවුනා. ආයෙ කාලයක් භාවනා කරගෙන ඉන්නකොට ආයෙ හත්වෙනි වතාවෙ උන්වහන්සේට ආයෙ ඇතිවුනා අර ලෞකික සමාපත්තිය. ඊටපස්සෙ උන්වහන්සේ ඒ සමාපත්තියෙන් ඉන්නකොට කල්පනා කලා දැන් මගේ හයවතාවක්ම සමාපත්තිය නැතිවුනා. ඒ නිසා මං මේ පාර මේ සමාපත්තිය නැතිවෙන්න කලින් මං ජීවිතේ නසාගන්නවා. එතකොට මේ සිතිවිල්ල දැක්කා. එතකොට උත්තරීතර සමාධියක් ලබමින්, ලෞකික සමාපත්තියක් ගැනනෙ මෙතන විස්තර කලේ. එතකොට ආර්ය සත්‍යය අවබෝධ වෙලා නැහැ. ඒ සඳහා වෙහෙස වෙන සේඛ භික්ෂුවක් විදියටයි මේ සමාපත්තිය ඉපැද්දුවෙ. එතකොට මේ සමාපත්තියෙන් පිරිහෙන්නැතිව මේ ජීවිතය ගැන ගන්න තීරණය ගැන කලබල වුනා, කලබල වෙලා මහ එක්කෙනා ගෝතික තෙරුන්ගේ හිතේ ඇතිවෙච්ච සිතිවිල්ල දැකලා ඉක්මණට බුදුරජාණන් වහන්සේ ඉදිරියේ පහළ වුනා. පහළ වෙලා ගාථා වලින් කිව්වා. අපි මේ ගැන විස්තර ඉගෙන ගෙන මෙච්චර බුදු ගුණ නම් කියලා නෑ කිසිම දවසක මාරයා විසින්. එදා කියනවා. ඒ කියන්නෙ අර ගෝතික භික්ෂුවගේ මරණය වළක්වන්න. මොකද ඒ ගෝතික භික්ෂුව මැරෙනකොට ධර්මය අවබෝධ කරනවා. ඒක වළක්වන්න. මහා වීරයාණෙනි, මහා ප්‍රඥාවන්තයාණෙනි, ඍද්ධියෙන් හා පිරිවරින් බබළන මුණිඳුනි. දහම් ඇස් ඇති මුණිඳුනි, ඔබවහන්සේගේ සිරිපා වඳිමි. බලන්න මහා ශ්‍රද්ධාවන්තයෙක් විදියට. මරණය මැඩලූ මහා වීරයාණෙනි, ඔබ වහන්සේගේ ශ්‍රාවකයෙක් මරණයට කැමැති වේ. මරණය ප්‍රිය කරයි. මහ තෙද ඇති මුණිඳුනි, එය වළක්වනු මැනැව. ජනයා අතර ප්‍රසිද්ධ වූ භාග්‍යවතුන් වහන්ස, ශාසනයේ ඇලුනු තවමත් අර්හත්වයට පත් නොවූ දහමේ හික්මෙන ඔබවහන්සේගේ ශ්‍රාවකයො ඔය විදියට මැරෙන්නෙ කොහොමද. ඉතින් ඔය කතාව යන අතරෙම ගෝතික තෙරුන් ඒ සමාපත්තියට සමවැදිලා ආයුධයක් අරන් බෙල්ල කපාගත්තා. එතකොට භාග්‍යවතුන් වහන්සේ ඒක දුටුවා ගෝතික තෙරුන් සියදිවි නසාගත්තා කියලා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ පවිටු මාරයා කියලා දැනගෙන බුද්ධිමත් උදවිය ඔය විදියටත් කරනවා, ජීවත් වෙන්න කැමැති වෙන්නෙ නෑ, තණ්හාව මුලින්ම උදුරලා දාපු පින්වත් ගෝතික භික්ෂුව දැන්

පිරිනිවන් පෑවා කිව්වා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ සංඝයා අමතා, යමු ඉසිගිලි පර්වතයේ පාමුල කාලසිලා පර්වතයට කියලා භාග්‍යවතුන් වහන්සේ වේළුවනයේ ඉඳලා ඉසිගිලි පර්වතයට වඩිනවා. භාග්‍යවතුන් වහන්සේ දැක්කා කාලසිලා පර්වතයේ ආයුෂ්මත් ගෝතික තෙරුන් ඇඳේ උඩුකුරු අතට වැටිලා ඉන්නවා පෙරලිච්චි කඳත් එක්ක. ඒ මොහොතේ දුම් වලාවක් ආකාසේ කළු පාට දුම් වලාවක් එහෙ මෙහෙ සැරිසරනවා. දිසා අටටම. එතකොටම භාග්‍යවතුන් වහන්සේ භික්ෂු සංඝයා අමතා, බලන්න අර පින්වත් මහණෙනි, අර දුම් සහිත අඳුරු සහිත දෙයක් නැගෙනහිර දිශාවටත්, උතුරු දිශාවටත්, බටහිර දිශාවටත්, දකුණු දිශාවටත් අනුදිශාවලටත් යනවා පේනවාද. එහෙමයි ස්වාමීනී, ඔය තමයි කිව්වා පවිටු මාරයා. ගෝතික භික්ෂුවගේ විඤ්ඤාණය කොහෙද පිහිටියේ කියලා හොයනවා කිව්වා ඔය. ඒ වුනාට පින්වත් මහණෙනි නොපිහිටි විඤ්ඤාණය ඇති ගෝතික භික්ෂුව පිරිනිවන් පෑවා කිව්වා. ඒකට කියනවා, ඕකට සමසීසී කියලා කියනනෙ. ඒ කියන්නෙ ජීවිතයත් අවසන් වෙනවා කෙලෙසුත් නැතිවෙනවා එකම මොහොතේ. එතකොට ගෝතික තෙරුන්ගේ ජීවිතය නැතිවුනේ රහත් වුනේ දෙකම එක මොහොතේ. ඔය වාගේ සිද්ධි වෙලා තියෙන්නෙ ඉතාමත් සුළු ප්‍රමාණයක්. වක්කලී තෙරුන්ගේ, ගෝතික තෙරුන්ගේ එච්චරයි. ඉතාම සුළු පිරිසකගේ තමයි වෙලා තියෙන්නෙ. අද කාලෙ කෙනෙක් භාවනාවක් උපද්දවාගත්තා එයා මැරුණා කියලා එයාට නිකෙලෙස් බවක් එහෙම ලැබෙන්නෙ නෑ. මේක බුද්ධ ශාසනයකට ඉතාමත්ම සුළු දෙයක්. මේ වාගේ තොරතුරු වෙන තැන්වල නෑ. ඉතින් මේක එක්තරා ඒ බුද්ධ ශාසනයක සිද්ධ වෙන ඉතාමත් දුර්ලභ ගණයේ සිදුවීමක් මේක. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඉදිරියට වේළුවපාණ්ඩ කියන වීණාවත් කිහිල්ලෙ ගහගෙන මාරයා පෙනී හිටියා. කියනවා උඩ යට හරස් අතට, දිසා අනු දිසා වලට මං හොයනවා, ඒ ගෝතික තෙරුන් ගියේ කොහෙද කියලා. නමුත් ගිය තැනක් හොයාගන්න බෑ. දැන් අපි මැරුණට පස්සෙ අද කාලෙ කෙනෙක් ආයෙ අහසේ ඔය සැරිසර සර ඉන්නෑ, එයාට පුලුවන් කොහෙද ඉපදුනේ කියන්න. මේ රහතන් වහන්සේලාගේ. ඊටපස්සෙ කියනවා ඔහු ප්‍රඥාවන්ත කෙනෙක්. භාග්‍යවතුන් වහන්සේ දේශනාකරනවා. වීර්යවන්ත කෙනෙක්, ධ්‍යාන වඩන, නිතරම ධ්‍යානයේ ඇලුනු කෙනෙක්. ජීවිතය නොතකා දවල් රාත්‍රී දෙකේම ධර්මයේ හැසිරුණා. මාර සෙනඟ සිඳගෙන පුනර්භවයට එන්නෙ නැතිව මේ තණ්හාව මුළමනින්ම උදුරලා ඒ ගෝතික භික්ෂුව පිරිනිවන් පෑවා කිව්වා.

එයින් ශෝකයට පත්වුනා මාරයාගේ කිහිල්ලෙන් වීණාව ගිලිහිලා ගියා. දුකට පත්වුනු මාරයා එතනින් නොපෙනී ගියා. දැන් මේකෙන් තේරුම් ගන්න එක්කෙනෙක් රහත් වෙන එක එයාට කොච්චර ෂොක් වෙනවාද. එක්කෙනෙක් රහත් වෙන එක කොච්චර දුකක් ඇති කරවනවාද. සද්දේ එන්නෙ නම් නෑ කෙනෙකුට මේකෙන් එතෙර වෙන්න. මේ ලස්සනට ධර්මයේ හැසිරෙනවා ගෙවල් අවුල් කරනවා ආයෙ බණක් භාවනාවක් තියා බණ පදයක් අහන්න කාලයක් නෑ. හිතාගත්තොත් මං මේ බණ ටික ඉවරවෙනකල්ම අහනවා කියලා මොකාක්හරි එකක් යෙදෙනවා. ආයෙ ලෝකයට බැනලා වැඩක් නෑ, මේ තමයි සසර. දැන් අපි කියමුකො මේ මහ එක්කෙනාට වැරැද්ද පටව පටව මේ මහ එකාගේ වැඩ, මහ එකාගේ වැඩ කියලා මෙයාට බැන බැන අපි ඉන්නවා කියලා. එතකොට ප්‍රශ්නෙ විසදෙනවාද. ඒත් ක්‍රෝධයනෙ. ඒත් කාමයනෙ. එතකොට ආයෙත් සේනාවකටනෙ අපි වැටෙන්නෙ. ඒ නිසා මේවා තේරුම් ගැනීම තමයි ශ්‍රේෂ්ට. තේරුම් ගැනීමයි ශ්‍රේෂ්ට. ඉතින් අපි බලමු තව මොනවද ඒ කාලෙ වෙලා තියෙන්නෙ කියලා. අපේ භාග්‍යවතුන් වහන්සේ රාග ද්වේෂය නැසූ, මොහ මානය නැසූ අපේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ මේ සියලු දේ අභියස ශාන්තව වැඩ හිටියා. මේ සෑම දෙයක් ඉදිරියේම ශාන්තව වැඩ හිටියා. ඒ දවස්වල භාග්‍යවතුන් වහන්සේ උරුවෙල් ජනපදයේ නේරංජනා ගං තෙර අජපාල නුගරුක මුල වැඩහිටියේ. සම්බුද්ධත්වයට පත්වුනු මුල් කාලෙ. ඉතින් ඒ දවස්වල භාග්‍යවතුන් වහන්සේගේ දුර්වල කමක් බල බලා තියන තියන පියරවක් පාසා අවුරුදු හතක් පිටිපස්සෙන් මාරයා ලුහුබැඳලා තියෙනවා, අවුරුදු හතක්. එදා භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ පෙනී ඉඳලා කියනවා, මොකෝ ශෝකයක් ද, ශෝකයේ ගිලිලාද, ධන හානියක් වෙලාද. මොකක්හරි ප්‍රාර්ථනාවක් හිතනවාද. ගමේ ඉඳිද්දි මොකක්හරි වැරැද්දක්වත් කලාද. මොකෝ ජනයාත් එක්ක මිශ්‍ර වෙන්නැත්තෙ. කවුරුවක්වත් එක්ක මිත්‍රකමක් ඇතිකරගන්නෙ නැත්තෙ මොකද, ශෝකයෙන්ද කියලා ඇහුවා ඉස්සරහට ගිහිල්ලා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා ඒයි මාරය, මං ඔය ශෝකය මුලින් උදුරලා දැම්මා. හැම වරදින්ම නිදහස් වුනා. මං ධ්‍යාන වඩන්නේ ශෝක රහිතවයි. හැම භවයක්ම, හැම ලෝභයක්ම, හැම තෘෂ්ණාවක්ම සිඳලා ආස්‍රව රහිත වෙලයි මං ධ්‍යාන වඩන්නෙ. මාරයා කියනවා යමක් ගැන කියනවා නම් මේක මගේ කියලා යම් කෙනෙක් කියනවා නම්, මේක මට අයිතියි කියලා ඒවා ගැන ඔබේ හිතත් තියෙනවා නම් ශ්‍රමණය ඔබට නම් නිදහස් වෙන්න පුලුවන් කමක් වෙන් නෑ මගෙන්. මම මගේ කියන අදහස

තියෙනවා නම් නිදහස් වෙන්න විදියක් නෑ කියනවා. බුදුරජාණන් වහන්සේ කියනවා යමක් ගැන කියනවා නම් මගේ කියලා, නමුත් ඒක මගේ නොවෙයි, යමක් ගැන කියනවා නම් මම නොවෙයි කියලා පවිටු මාරය ඒ ගැන මේ විදියට දැනගන්න ඕන, මං ගමන් කරන මගවත් නුඹට දකින්න බෑ. මම නොවෙයි, මගේ නොවෙයි, මගේ ආත්මය නොවෙයි කියලා අවබෝධ කලා. එහෙම නම් ඒ බිය රහිත වූ අමා නිවනට යන්න මාර්ගය අවබෝධ කරගත්තා නම් මගේ විසින් ඔබ වහන්සේ විතරක් ඉවත් වෙලා යන්න. අනිත් අයට අනුශාසනා කරන්න එපා. හරි දැන් ඔබ වහන්සේ ඕකෙන් නිදහස් වුනා නම් පාඩුවෙ ඉන්න ඔයා අනිත් අයට ඕවා කියන්න යන්න එපා. භාග්‍යවතුන් වහන්සේට කොච්චර ඒ අභියෝග, සම්බුදු වෙලත්, ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා, සසරින් එතෙරට යන්නට ඕනකම තියෙන ජනතාවක් ඉන්නවා. නිදහස් වෙන්න උවමනාව තියෙන කට්ටියක් ඉන්නවා. මාර විජිතයට අයිති නැති ඒ නිවන ගැන ඔවුන් මගෙන් අහනවා. ඒ අය මගෙන් නිවන ගැන අහනවා. එතකොට මං ඔවුන්ට කෙලෙස් රහිත වූ ඒ සත්‍යය ගැන මං කියලා දෙනවා. ස්වාමීනී, ඊටපස්සෙ කියනවා මාරයා, ස්වාමීනී, ඒක මේ වගේ දෙයක්, ගමකට හරි කුඩා නගරයකට හරි නුදුරින් පොකුණක් තියෙනවා. ඒකෙ කකුළුවෙක් ඉන්නවා. එතකොට ස්වාමීනී පොඩි දරුවො ඇවිල්ලා ඒ ගමේ හරි කුඩා නගරයේ හරි නික්මිලා ඇවිදින් අර පොකුණ ළඟට ඇවිල්ලාල කකුළුවා ගොඩට අරන් ගොඩබිමින් තිබ්බා. ඉතින් ඒ කකුළුවා අඬු දිගහරිනවා. එතකොට ඒ දරුවො දැරිවියො දඬු වලින් ඒ අඬු කඩලා දැම්මට පස්සේ ඔය විදියට අඬු කඩපු කකුළුවාට ඉස්සර විදියට ආයෙ පොකුණට බහින්න බෑ, ස්වාමීනී ඔය විදියට යම්තාක් විකාර දේවල්, යම්තාක් අවුස්සන දේවල් හිත කම්පාවෙන දේවල් තියෙනවාද, ඒ හැමදෙයක්ම භාග්‍යවතුන් වහන්සේ කඩලා දැම්මා, භාග්‍යවතුන් වහන්සේ කෑලි කෑලි වලට කඩලා දැම්මා. දැන් ඉතින් ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේගේ දුර්වල කමක් හොයාගන්න ළඟට එන්න මට පුලුවන්කමක් නෑ. ඔබවහන්සේ ළඟට මට එන්න බෑ කිව්වා. එතකොට බලන්න කොච්චර ෂොක් එකක් ද. එතකොට පවිටු මාරයා, භාග්‍යවතුන් වහන්සේ තමන් පසුබැස්ස කරුණු ගැන කියවෙන ගාථාවක් පැවසුවා. කපුටෙක් හිටියා, ඔහු දැක්කා තෙල් පාට ගලක්. දැකලා හිතුවා ඒක මෘදු කෑමක් වෙන්න ඇති කියලා. රස විඳින්න පුලුවන් ඇති කියලා. ඒ වටා කොටන්න පටන් ගත්තා. නමුත් ඒ ගලෙන් ආශ්වාදයක් ලබාගන්න බැරි කපුටා එතනින් බැහැර වෙලා ගියා. මමත් ඒ ගලට රැවටිච්චි කපුටා වගේ. කලකිරිලා ගෞතමයන් වහන්සේගෙන් ඉවත් වෙලා

යන්නෙ වැඩක් නෑ කියලා. ඊටපස්සෙ පව්ටු මාරයා භාග්‍යවතුන් වහන්සේ සමීපයේ ඔය උකටලී වෙන ගාථාවන් කියලා එතනින් නික්ම ගියා. භාග්‍යවතුන් වහන්සේට නුදුරින් පොළොවේ පළඟක් බැඳගෙන වාඩිවුනා. නිශ්ශබ්දවුනා. වැටහීම් රහිත වුනා. කඳ පාත් කරගත්තා, ඔළුව යටට හරවගත්තා. සිතිවිලි හිතන්න පටන් ගත්තා. ලී කැල්ලක් අරගෙන බිම ඉරි අඳින්න ගියා. කොච්චර වික්ෂෝප ඇත්ද කියලා හිතන්න පින්වත්නි. එතකොට සමහරු කියනවානෙ මේ මාරයා කියන්නෙ සංකල්පයක්. පුද්ගලයෙක් නෙවෙයි කියලා. එතකොට ඒ ඔකකෝම මිනිස්සුන්ගේ හිතේ ඇතිවන මනෝ විතර්ක. නමුත් මේ අපිට නොපෙනෙන අපි දන්නෙවත් නැති මේ විස්තර අපි බුදු කෙනෙක්ගේ ශාසනයෙන් ඉගෙන ගන්න ඕන, අපිට හිතෙන ඒවා හරි කියලා එකක් නෑ මෙතන. අපි සසරේ යන අයනෙ, කෙලෙස් සහිත අයනෙ. නිකෙලෙස් වූ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී සද්ධර්මයෙන් තමයි අපි ලෝකය ගැන යමක් තේරුම්ගන්න ඕන. ඊටපස්සෙ අපි බලමු මොකද වුනේ කියලා. දැන් මාරදිටු සූත්‍රය ඊළඟට තියෙන්නෙ. තණ්හාත් අරතිත් රඟාත් කියන මාර දූවරු පව්ටු මාරයා ළඟට ගියා. ගිහිල්ලා මාරයාට මෙහෙම කිව්වා, තාත්තෙ මොකද ඔයා දුකින් ඉන්නෙ. එතකොට මෙයාට දුවලා තුන් දෙනෙකුත් ඉන්නවා. ඊටපස්සෙ අහනවා මොකද දුකෙන් ඉන්නෙ කියලා. පුරුෂයෙක් ශෝක කරන්නෙ ඇයි. වනාන්තරේ ඉන්න හස්තිරාජයෙක්ව අල්ලාගෙන එනවා වගේ අපි ඔහුව රාග තොණ්ඩුවෙන් බැඳලා අරගෙන එන්නම්. එතකොට ඔයාගේ වසඟයට ඔහුව ගන්න පුලුවන්. රාගයෙන් වසග කරලා එන්නම්. එතකොට රාගයට වසඟ වුනොත් මාරයාට අල්ලන්න පුලුවන්. අපි ඇදගෙන එන්නම් කිව්වා. මාරයා කියනවා ලෝකයේ සුගතයන් වහන්සේ අර්හත්. රාගයෙන් ඔහුව බඳින එක කරන්න පුලුවන් දෙයක් නෙවෙයි, මාර විෂය ඉක්මවා ගිහින් ඉන්නෙ. අන්න ඒ නිසයි මං ගොඩක් ශෝක වෙන්නෙ. එතකොට තණ්හා, අරති, රඟා යන මේ තුන්දෙනා බුදුරජාණන් වහන්සේ ළඟට ගියා. අජපාල නිග්‍රෝධ වෘක්ෂය මුලට. ගිහිල්ලා ශ්‍රමණයන් වහන්ස අපි ඔබවහන්සේගේ පා කමල් අභියස බැලමෙහෙවර කරන්නම් කියලා ලස්සන අර කාන්තාවෝ තුන්දෙනා බුදුරජාණන් වහන්සේ ළඟට ගියා. එතකොට කෙලෙස් නැති කරලා අනුත්තර වූ විමුක්තියට පත් වෙච්චි කෙනෙක් සිටින්නේ යම් ආකාරයකින්ද අන්න ඒ ආකාරයෙන්ම භාග්‍යවතුන් වහන්සේ මාර දූවරුන් ගැන හිත යොමු කලේ නෑ. ඊළඟට තණ්හාත්, අරතිත්, රඟාත් යන මාර දූවරු පැත්තකට ගිහින් සාකච්ඡා කලා. පුරුෂයන්ගේ හැඟීම් විවිධාකාරයි. අපි එක එක්කෙනා සීය බැගින්

කුමාරිකාවන්ගේ වෙස් මවාගෙන එන එක තමයි හොඳ කියලා මේ අය තුන්සීයක් ලස්සන කුමාරිකාවෙ මවලා ළඟට ගිහිල්ලා කිව්වා අපි ඔබවහන්සේගේ කියලා. එතකොටත් විමුක්තියට පත් වූ කෙනෙක් යම් සේ විරාගීව වැඩ සිටිනවාද, ඒ විදියටම විමුක්තියටම පත් වෙච්චි භාග්‍යවතුන් වහන්සේ විරාගීව හිත් යොමු කරන්නැතිව වාසය කලා. ඊළඟට අර තුන්දෙනා ආයෙ පැත්තකට ගිහිල්ලා කතා කලා. කතා කරලා කල්පනා කලා මේ පුරුෂයන්ගේ හැඟීම් විවිධයි, අපි මෙහෙම කරමු කියලා එක එක්කෙනා සීය බැගින් වෙන විදියට දරුවන් නොවදපු ලලනාවන්ගේ මෝරපු කාන්තාවන්ගේ ශරීර මවාගෙන තුන්සීයක් ඇවිල්ලා ඉස්සරහට කියා හිටියා අපි ඔබවහන්සේගේ කියලා. භාග්‍යවතුන් වහන්සේ විමුක්ති සුවයෙන් වැඩ හිටියා. එතකොට ආයෙත් ගිහිල්ලා කතා කලා ඔය පිරිමි එක එක අදහස් වල ඉන්න අය. ඒ නිසා අපි මෙහෙම කරමු කියලා දරුවන් එක දරුවෙක් වදපු කාන්තාවන්ගේ රූප මවාගෙන ආවා තුන්සීයක්. අපි ඔබවහන්සේගේ කිව්වා. මිහු හිත නැමුන් නෑ, හිත යොමු කලේ නෑ. දරුවො දෙන්නෙක් වදපු, දරුවො තුන් දෙනෙක් වදපු, ඒ විදියට. ඊළඟට කල්පනා කලා මේ පිරිමි එක එක අදහස් තියෙන අය ඒ නිසා අපි මෙහෙම කරමු කියලා මධ්‍යම ශරීර, කෙට්ටුත් නැති මහතත් නැති ශරීර මවාගෙන තුන්සීයක් එක විදියටම පිරිවර සහිතව ඉදිරියට ආවා. ඊළඟට තරබාරු කාන්තාවන්ගේ වෙස් අරගෙන, ඊටපස්සෙ කෙට්ටු කාන්තාවන්ගේ වෙස් අරගෙන, රාගයෙන් හිත බඳින්න ඕන කියලා බුදුරජාණන් වහන්සේ ඉදිරියේ පෙනී හිටියා. බුදුරජාණන් වහන්සේ ඉදිරියට ගිහිල්ලා කිව්වා අපි ඔබවහන්සේගේ, ඔබවහන්සේට උපස්ථාන කරන්නයි මේ ඇවිල්ලා ඉන්නෙ. භාග්‍යවතුන් වහන්සේ යම්කිසි කෙනෙක් විමුක්ති සුවයෙන් වැඩ සිටිනවාද, ඒ ආකාරයෙන්ම වැඩ සිටියා. ඊටපස්සෙ මේ කිසිම දේකට හිත යොමු කරන්නැති නිසා එතනින් අතුරුදහන් වෙලා මාරයාට ගිහිල්ලා කියනවා, තාත්තෙ කිව්ව එකනම් ඇත්තමයි. සුගතයන් වහන්සේලා රාගයෙන් බඳින්න පුලුවන් දෙයක් නෙවෙයි, ඒ විෂය ඉක්මවලා ගිහිල්ලා තියෙන්නෙ. අපිත් ගොඩක් ශෝක වෙනවා කිව්වා. නමුත් රාගය දුරු නොවුන ශ්‍රමණයෙකුට හරි බ්‍රාහ්මණයෙකුට හරි අපි මේ කරපු උපක්‍රමයෙන් ඔවුන් ළඟට ගියොත් ඒ අයගේ හදවත පැලෙයි කිව්වා. කටින් උණු ලේ මතුවෙයි කිව්වා. උන්මත්තක බවට පත්වෙයි කිව්වා. සිහි විකල් වේවි කිව්වා. අමු උණ බට ගහක් කපලා දැම්මාම වේලිලා යනවා වගේ වේලෙයි කිව්වා. මැලවිලා යනවා වගේ මැලවෙයි කිව්වා. ඊටපස්සෙ තණ්හාත්, අරතිත්, රඟාත් යන මාර දූවරු භාග්‍යවතුන් වහන්සේ

ළඟට ගියා. පැත්තකින් හිටගත්තා. පැත්තකින් හිටිය තණ්හා නම් මාර දියණිය භාග්‍යවතුන් වහන්සේට මෙහෙම කියාහිටියා. මොකද ශෝකයෙන් ගිලිලද මේ වනයට වෙලා හිත හිතා ඉන්නෙ. ධන හානියක් වුනාද. වෙන පැතුමක්ද. ගමේ ඉදිද්දි මොනවත් වරදක් කලාද. මොකද ජනයාත් එක්ක මිත්‍ර කමක් නැත්තෙ. ඔබවහන්සේ කවුරුත් එක්ක මිත්‍රත්වයක් ඇතිකරගන්නැත්ද. භාග්‍යවතුන් වහන්සේ ඒ වෙලාවේ වදාලා ප්‍රිය වූ මිහිරි ස්වරූප ඇති සේනාව පරදවලා මං හුදකලාවේ ධ්‍යාන වඩනවා. ප්‍රිය වූ මාර සේනාව පරදවලා මං හුදකලාවේ ශාන්තිය වඩනවා. හදවතේ ශාන්තිය වූ ජීවිතේ අර්ථයට පැමිණීම වූ ඒ අර්හත් ඵල සුවය මං අවබෝධ කලා. ඒ නිසා මං ජනයාත් සමඟ මිත්‍රකමක් නෑ. මං කවුරුවත් එක්ක මිත්‍රකම් ඇතිකරගන් නෑ, එතකොට අරති කියනවා. මේ සසුනේ භික්ෂුව කෙබඳු ආකාර දහම් හැසිරීමක් බහුල වශයෙන් කිරීමෙන්ද පඤ්චකාමය නැමැති සැඩපහර, මනසේ ඇතිවෙන කෙලෙස් නැමැති සැඩපහර තරණය කරන්නෙ. කෙබඳු ධ්‍යානයක් බහුල වශයෙන් කලොත්ද කාම සංඥාව ඔහුට භාහිර දෙයක් වෙන්නෙ. ඒ සංඥාව ඔහුට නොලැබෙන්නෙ. කාම සංඥාව බාහිර දෙයක් කියනවා, රහතන් වහන්සේලාට. එතකොට අද කාම සංඥාව බාහිර නෑනෙ තමා තුළනෙ තියෙන්නෙ. තමන් තුළම උපදිනවානෙ කාම සංඥාව තත්පරේට. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ දේශනා කරනවා ඒ භික්ෂුවගේ කය සංසිදිලා තියෙන්නෙ. සිත ඉතා හොදින් නිදහස් වෙලා තියෙන්නෙ. සංස්කාර රැස් වෙන්නෙ නෑ. සතර සතිපට්ඨානයේ සිත පිහිටලා තියෙන්නෙ. තණ්හාව රහිතවයි ඉන්නෙ. ධර්මාවබෝධය තුළින් ධ්‍යාන වඩන ඔහු බාහිර අරමුණු විතර්ක කරන් නෑ, ඒ නිසා බාහිර අරමුණු වලට ඇවිස්සෙන්නෙ නෑ. සිහි කරන්නෙ නෑ, හැකිලෙන්නෙ නෑ. භාහිර අරමුණුවටලට ඇවිස්සෙන්නෙ නැති හැකිලෙන්නේ නැති හිතක් තියෙන්න ඕන. දැන් අද කාලේ ධර්මය පුරුදු කරන්න යනකොට බාහිර දේවල් ඔළුවට අරන් අවුස්සගන්නවා. විතර්ක, අරයා මෙහෙම කියනවා. මෙයා මෙහෙම කියනවා අරකද හරි මේකද හරි ඒකනේ මාර්ගයක් වැඩෙන් නැත්තෙ. හරියට බුද්ධ දේශනාවට, බුද්ධ වචනයට තමා තුළ ශ්‍රද්ධාව පිහිටීම නැතිවීමේ අභාග්‍යය. ඔය ආකාරයට බහුල වශයෙන් ජීවිතය ගෙවන භික්ෂුව පඤ්චකාමය නැමැති සැඩගඟත්, මනසින් ඇතිවන අරමුණුත් තරණය කරනවා. ඔය විදියට භික්ෂුව බහුල වශයෙන් ධ්‍යාන වඩනකොට කාම සංඥා බැහැර වෙනවා. ඒවා ලැබෙන්නෙ නෑ. එතකොට රඟා මාර දියණිය භාග්‍යවතුන් වහන්සේට කියා හිටිනවා, ශ්‍රාවක පිරිස් පිරිවරාගෙන චාරිකාවේ වඩින මේ ශාස්තෘන් වහන්සේ තෘෂ්ණාව නැති

කරලයි ඉන්නෙ. බොහෝ සත්ත්වයන්ට මේ නිසා තෘෂ්ණාව නැති කරලා දානවා. මේ තණ්හා රහිත මුණිඳුන් මාරයාගේ ග්‍රහණයේ සිටින බොහෝ සත්ත්වයා පැහැරගෙන සසරින් එතෙරට රැගෙන යනවා. මේ ශෝකය කියන්නෙ. බුදුරජාණන් වහන්සේ කියා හිටිනවා ඔව් මහා වීර වූ තථාගතයන් වහන්සේලා සත්ත්වයන්ව සද්ධර්මය තුළින් එතෙර කරවනවා තමයි. ධර්මයෙන් සත්ත්වයන්ව එතෙර කරවද්දින් ඒකට ඊර්ෂ්‍යා කරන්නෙ ඇයි. ඉතින් තණ්හාත්, අරතිත්, රඟාත් යන මාර දූවරු පවිටු මාරයා ළඟට ගියා. පවිටු මාරයා තමන් ළඟට තණ්හාත්, අරතිත්, රඟාත් මාර දූවරු පැමිණෙනවා දුර තියාම දැක්කා. දැකලා කියනවා මෝඩියේ මානෙල් දඬු වලින් පර්වතයක් ඇදගෙන එන්න හිතුවාද. නියපොතු වලින් ගල් කන්දක් හාරන්න හිතුවාද. දත් වලින් යකඩ කන්න හිතුවාද. මහා පර්වතයක් ඔළුව උඩ තියාගෙන ගැඹුරු ජලයේ පීනන්න හිතුවාද. පපුවේ උලක් ඇනුනා වගේ ගෞතමයන් කෙරෙහි කළකිරිලා දැන් ආවා නේද මොනවත් කරගන්න බැරි තැන. ඉතින් ඒ විදියට කියා හිටියා. ඉතින් රහතන් වහන්සේලා අවසානෙට දේශනා කරනවා තණ්හා අරති රඟා යන මාර දූවරු දිලිසි දිලිසි එතනට ආවෙ. එහිදී අපගේ ශාස්තෲන් වහන්සේ ඔවුන්ව පළවා හැරියා. ගිලිහී වැටෙන පුළුන් රොදක් හුළඟින් වීසිකරනවා වගේ තමයි කියනවා පරාජයට පත් වුනේ. එතකොට හිතන්න බලන්න මේ ලෝකයේ ධර්මයක් අවබෝධ කරගත්තු කෙනෙකුට ඔච්චර පිටිපස්සෙන් පන්නනවා නම් අවබෝධ කරන්න යන කෙනෙක් ගැන කවර කතාද. බුදුරජාණන් වහන්සේ කෙනෙක් ලෝකයට පහළ වෙලා, ඒ බුදුරජාණන් වහන්සේ අවුරුදු පන්සීයක් ඇතුලත බුද්ධ අධිෂ්ටානයෙන් ඒ සියලුම බලවේග මැඩපවත්වලා තිබ්බා. ඒ නිසා ශ්‍රාවකයාට තමන්ගේ පුණ්‍ය සම්පත්තිය, යෝනිසෝමනසිකාරය, හරියට ධර්මයට අනුව විමසා ගන්න පරිසරයක් තිබ්බා ඒ කාලෙ. ඒක අවුරුදු පන්සීයයි තිබ්බෙ. ඊටපස්සෙ අවුරුදු පන්සීය ඉවර වුනාට පස්සෙ ඒ අවුරුදු පන්සීය ඉවර වෙනකල් බලාගෙන හිටියා. මොකද බුද්ධ වචනයෙන්, බුදුරජාණන් වහන්සේගේ බුදු මුවෙන් පිටවුනානෙ මේක අවුරුදු පන්සීයයි තියෙන්නෙ කියලා. ඊටපස්සෙ ඒ අවුරුදු පන්සීයෙන් පස්සෙ ටික ටික මේක නැතිවෙලා නැතිවෙලා රහතන් වහන්සේලාගේ යුගය අවසන්වුනා. ඊටපස්සෙ ගොඩක් බිහිවුනේ පඬිවරු. ධර්මධරයෝ. ධර්මධර විනයධර මහා පඬිවරු බිහිවුනා. ඊටපස්සෙ පොත් ලියන තැනට වැටුනා. ඊටපස්සෙ එහෙම එහෙම තමයි ආවෙ. එතකොට ඒ විදියට තමයි මේ ශාසන ඉතිහාසය ආවෙ. හොඳට අධ්‍යයනය කරනකොට ඒක තේරෙනවා. එතකොට දැන්

බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාලා අවුරුදු දෙදාහස් හයසීයයි, සම්පූර්ණයෙන්ම මේ විජිතය අල්ලලා ඉවරයි යම් බලවේගයක් විසින්. ඊටපස්සෙ එයාගේ සේනාව එක එක්කෙනා විදියට, එක එක ස්වරූපයෙන් එක එක ආගම් විදියට එවනවා. ඉතින් මොකද මේ මහ එක්කෙනාට විරුද්ධව තියෙන එකම දහම බුද්ධ ශාසනය විතරයි. එකම ශාසනය බුද්ධ ශාසනය විතරයි. අනෙත් කිසිම දහමක්, කිසිම ආගමක් ඔහුට විරුද්ධ නෑ, ඔහු ඒවට අකැමැතිත් නෑ. බුද්ධ ශාසනයටමයි අකැමැති. කොහොමද මේ බුද්ධ ශාසනය හටගත්තු මුළු දඹදිවින්ම කසාවත අතුරුදහන් කරලා දාපු හැටි කොහොමද. මුළු දඹදිවින්ම දහම් කතාව අතුරුදහන් කරලා දාපු හැටි කොහොමද. ඒ බුදුරජාණන් වහන්සේ වැඩ හිටපු ස්ථාන වලට කරපු හානිය කොහොමද. ඉතින් ඒ නිසා ඒවා බැබළෙන්න දෙන්නැති බව කොහොමද. දැන් ඉන්දියාව ගත්තොත් වෙනත් වෙහෙර විහාර වෙනත් පූජ්‍ය ස්ථාන, දේවස්ථාන, මාළිගා කොහොම රනින් රිදියෙන් බැබළෙනවාද. නමුත් බුදුරජාණන් වහන්සේට අයිති තැනක් එහෙම බැබළෙන්න දෙන් නෑ. ඒ භූමියට පවා අකැමැතියි. ඉතින් ඔය භූමිය ඔය විදියට ගිහිල්ලා මිනිස්සු දුක් විඳින මට්ටමට ඔහොම හැදිලා ආයෙත් ලොව්තුරා සම්මා සම්බුදු කෙනෙක් පහළ වෙන කාලෙ තමයි මේ තුන් ලෝක ධාතුවෙන්ම, මේ පෘථිවියෙන්ම සුන්දරම භූමිය බවට පත්වෙන්නෙ. දැන් දඹදිව මිනිස්සු ගිහිල්ලා අනේ මේ කියලා බුදු කෙනෙක් පහළ වුනේ කියලා හිතන්නෙ දැන් අවුරුදු දෙදහස් හයසීයකට පස්සෙනෙ ඔය. මහා ලෝකයේ අසංඛෙය්‍ය හතරක් පින් කරපු මහා පුණ්‍යවන්තයො ඉපදෙන්නෙ පුණ්‍යවන්ත සුන්දරම තැනනෙ. මේ පෘථිවියේ ලස්සනම තැන දඹදිව ඒ කාලෙ. ඉතින් ඒ නිසා මේවා අද අපිට පේන්න තියෙන දකින්න තියෙන දේවල් එක්ක බුදුරජාණන් වහන්සේ වැඩ හිටපු කාලෙ හිතන්න එපා. ඒවා ගොඩක් වෙනස්. බුදු කෙනෙක්ගේ කාලයක් ගැන ඔබ කොහොම හිතන්නද, මීට අවුරුදු විස්සකට විසිපහකට කලින් ඔබ හිටපු ගම තිබ්බ විදිය හිතන්නකො. ඒ ගමට දැන් වෙලා තියෙන දේ හිතන්නකො. මීට අවුරුදු විසිපහකට තිහකට කලින් ඔබගේ නගරය තිබ්බ විදිය හිතන්නකො. දැන් තියෙන විදිය හිතන්නකො. මීට අවුරුදු විසිපහකට තිහකට කලින් වෙහෙර විහාර තිබ්බ විදිය හිතන්නකො. දැන් තියෙන විදිය හිතන්නකො. අවුරුදු විස්සකට විසිපහකට කලින් ගමට කෙනෙක් ආවොත් ඒ ගමේ මනුස්සයා විශ්වාස කරන්නෑ මේ ගමේද මං හිටියේ කියලා. මේ පුංචි කාලෙකට මෙච්චර වෙනස්කම් වෙනවා නම් අවුරුදු දෙදහස් හයසීයක් වෙනකොට කොච්චර වෙනස්කම් වෙලාද. ඒ තථාගත සම්මා සම්බුදුරජාණන්

වහන්සේගේ සිරිපා කමල් තබා වැඩම කරපු ඒ උතුම් ජම්බුද්වීපය මහරහතන් වහන්සේලා සිරිපා කමල් තබ තබා වැඩම කරපු ඒ ජම්බුද්වීපය අපිට සිහින්වත් සිතාගත නොහැකියි ඒ සුන්දර බව. රහතන් වහන්සේලා වැඩ හිටපු භූමියක්. මහා පින්වන්තයො දන් බෙදපු භූමියක්. මහා පින්වන්තයේ ධර්මය ඇසූ භූමිය. ඔවුන්ට පහළ වුනු පැන්පොකුණු, ඔවුන්ට පහළ වුනු වනවදුළු, ගිරිගුහා, ඒ කාලෙ කොහොම තිබ්බද කියලා අපිට හිතාගන්නවත් බෑ. ඒ නිසා අපි අපේ තරම දැනගෙන අපිට දැන් අද තියෙන්නෙ තුණුරුවන් සරණේ පිහිට. රකින සීලය, දෙන දානය, වඳින පුදන සෑය බෝධියෙන් රැස් වෙන පින. එතකොට අහන දහම් කතා, මේ මොහොතක් හරි ධර්ම ශ්‍රවණය කරන එක. ඒක තමයි අපිට පිහිට පිණිස පවතින්නෙ. එතකොට ඒ තමන්ට පුලුවන් තරමින් තමන් තේරුම් ගන්න ඕන. තේරුම් අරන් තමන්ට පුලුවන් විදියට මේකෙන් ආරක්ෂා වෙලා කුසල් දහම් පින් දහම් රැස් කරගන්න ඕන. ඒ නිසා බුද්ධ ශාසනයේ අවසාන යුගයේ ලැබුනු මේ අවස්ථාවත් හිතට එන පණ්ඩිතකම් නිසා, මතිමතාන්තර නිසා නැති කරගන්න එපා. මේ ධර්මය දේශනා කරන්නෙ පිහිටක් ගන්න පුලුවන් ශ්‍රාවකයන් පිණිස පමණයි. ඉතින් ඒ නිසා ඔබ ඒ පිහිට පිළිසරණ ගන්න. වාද විවාද කරන අය කරගෙන යයි, බනින අය බැනගෙන යයි. දොස් කියන අය දොස් කියාගෙන යයි. බාධා කරන අය බාධා කරගෙන යයි. අපි පුළුවන් විදියට මේ ධර්මය ශ්‍රවණය කරමු. පුළුවන් විදියට මේ ධර්මය ගැන පහදිමු. ඒ නිසා අදත් හිතට ගන්න දිවිතිබෙන තුරු නිවන් දකිනතුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා. ඒ උතුම් ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා. ඒ උතුම් තිසරණය අපිව මේ දුකින් නිදහස් කරත්වා.

ඉතින් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නේ පින්වත් ප්‍රියංකර මහත්මයා සහ ශාලිකා මහත්මිය විසින්. ඉතින් සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. මේ පින්වතුන් ආරක්ෂා කරත්වා. ඒ වගේම මියපරලොව ගිය ආනන්ද ගුණවර්ධන පියාණන්ට මේ සියලු පින් අනුමෝදන් වෙත්වා. මියපරලොව ගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා. පරම පූජනීය ගුරු දේවෝත්තම කළ්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ පින් බලයෙන් නිදුක් නිරෝගී දීර්ඝායුෂම ලබත්වා. ගුරු දෙව්දුන් ඇතුළු සකල සඟරුවන, ඒ වගේම අනගාරිකා මෑණිවරු, පැවිදි අපේක්ෂක දූපුතුන් ධර්මාවබෝධයම ලබත්වා. සුජීවත්ව සිටින ශ්‍රීමතී ඒකනායක මෑණියන්ටත්, ෂෙල්ටන් පළිහවඩන

පියාණන්ටත්, ශ්‍රීමතී මැණිකේ මැණියන්ටත් නිදුක් නිරෝගී සුවපත්භාවය, චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ වේවා. කොරෝනා වෛරසයෙන් පීඩා විඳින ලක්වැසි ලෝවැසි සියලු දෙනා මේ පින් බලයෙන් නිදුක් නිරෝගී සුව ලබත්වා. ප්‍රියංකර මහත්මයා සහ ශාලිකා මහත්මියට මේ පින් අනුමෝදන් වී සියලු නිදුක් නිරෝගී යහපත් භාවය සැලසෙත්වා. යහපත් අදහස් ඉෂ්ට සිද්ධ වේවා. ඒ වගේම පවුලේ සියලු දෙනාටත් ඔබටත් ධර්මය අවබෝධ කරගන්නම මේ පින හේතුවාසනා වේවා. මව් දෙමව්පිය ඥාතා බන්ධුමිත්‍රාදීන්ටත්, ගුරු භවතුන්ටත් මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම අපි හැදූ වැඩූ දෙමාපියන්ට, ශ්‍රද්ධා රූපවාහිනියෙන් ලක්විරූ ගුවන් විදුලියෙන් ධර්මය අසන සියලු දෙනාට, කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් භාග්‍යවතුන් වහන්සේ යම් ධර්මයක් අවබෝධ කලාද, දේශනා කලාද ඒ ධර්මය අවබෝධ කරගන්න මේ උතුම් තිසරණය මනාව පිහිටවාගැනීම පිණිස මේ සියලු පින් හේතුවාසනාම වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=gmCuDQeV3Zk&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=71

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ කොළඹ, නාරාහේන්පිට පදිංචි පින්වත් ශීලා

කුලසිංහ මැණියන්, තිලක් පුතණුවන්, ප්‍රසන්න පුතණුවන්, ලලිත් පුතණුවන්, අනෝමා දියණිය සහ එම අයගේ පවුල් වල සියලු දෙනා විසින්. මේ පින්වතුන් බොහෝ පින් රැස් කරගන්නවා කලාතුරකින් ලෝකයට පහළ වෙන තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකගේ අසිරිමත් සම්බුදු ආනුභාවය මේ ලෝක සත්ත්වයාට අහන්න සළස්වන ධර්ම දානමය පින තුළින් බොහෝ පින් රැස් කරගන්නවා. ඉතින් ඒ නිසා ඒ අප්‍රමාණ පින ඔබට යහපත සැනසිල්ල පිණිස හේතුවේවා කියන අදහසින් අපි අද ධර්ම දේශනාව ආරම්භ කරමු. අදත් අපගේ බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ සුවිශේෂී වූ කාරණාවක් කතා බහට ලක් කෙරෙනවා. පින්වත්නි බුදුරජාණන් වහන්සේ කෙනෙක් ලෝකයට පහළ වෙනකොට මේ ලෝකයේ සම්මා සම්බුද්ධත්වයට, විමුක්තියට, නිවනට බාධා පිණිස පවතින බලවේග කොහොම වැඩ කරනවාද කියලා අපි මීට කලින් දේශනාවලදි ඉගෙන ගන්න යෙදුනා. එතකොට මේවා අස්සෙ තමයි එතරම් කරදර බාධක මැද්දේ තමයි කෙනෙක් බුදුරජාණන් වහන්සේ සරණ යන්නෙ. ශ්‍රී සද්ධර්මය සරණ යන්නෙ. ආර්ය මහා සංඝරත්නය සරණ යන්නෙ. එතකොට මෙයාට තියෙන්න ඕනෑ මේ ලෝකයේ බලවේගත් එක්ක ඝට්ටනය වීම නෙවෙයි. දැන් පින්වතුනි විශාල සතුරන් මැදකට තනි පුද්ගලයෙක් වැටුනා වගේ එකක් මේ නිවන් දකිනවා කියන එක. එතකොට තනි පුද්ගලයෙකුට විශාල සතුරු සේනාවක් එක්ක යුද්ධ කරන්නට මේ වෙලාවේ අමාරුයි. එතකොට අපි කරන්න ඕන වෙන්නෙ බේරෙන එක. අපිට යම්කිසි ජයග්‍රහණයක් ලැබෙන තුරු සතුරන්ගේ පහර වලින් බේරෙන්න ඕන. සතුරන්ගේ පහර වලින් බේරෙන ප්‍රධානම ක්‍රමය තමයි සතුරන්ට ගහන්න බැරි තැනකට යන එක. එහෙම නැත්නම් පිළිසරණක් සොයාගෙන යන එක. පිළිසරණක් සොයාගෙන යනකල්මයි, ආරක්ෂිත ස්ථානයකට යනකල්මයි බැට දෙන්නෙ. දැන් උදාහරණයක් හිතන්න සක්විති රජ කෙනෙක්ගේ රාජධානියක් තියෙනවා එහෙම නැත්නම් මහා බලසම්පන්න සතුරන්ගෙන් තොර වූ ආරක්ෂිත රාජධානියක් තියෙනවා. ඒ රාජධානියෙන් පිට අසරණ මිනිස්සු කොට්ඨාශයක් සිටිනවා. සොර සතුරෝ සිටිනවා. ඉතින් අර අසරණ මිනිස්සුන්ට අහන්න ලැබෙනවා භය සැක රහිත ඉතාමත් සැනසිල්ලෙ ජීවත් වෙන්න පුලුවන් රාජ්‍යයක් තියෙනවා කියලා. එහෙම අහන්න ලැබුනම එයා අර රාජ්‍යයට ඇතුල් වෙන්න එනවා. අර පිට ඉඳලා එනවා. එනකොට සොර සතුරො ඔවුන්ට පහර දෙනවා. එනකොට සොර සතුරෝ ඔවුන්ට පහර දෙන්නේ රාජ්‍ය සීමාවෙන් ඇතුලතින්ද, පිටතින්ද? පිටතදින්. යම් විදියකින් මේ බැට

කැමනාවෙන් බේරිලා රාජ්‍යයට ඇතුල් වුනාද, රාජ්‍යයට ඇතුල් වුනාට පස්සෙ බැට දෙන්න විදියක් නෑ, මොකද හේතුව ඒ රාජ්‍යය බිය සැක රහිත තැනක්. ආරක්ෂිත තැනක්. ආන්න ඒ වගේ තමයි උතුම් වූ බුදුරජාණන් වහන්සේගේ සරණ තුළ පිහිටන තාක්, ශ්‍රී සද්ධර්මයේ සරණ තුළ පිහිටන තාක්, ආර්ය මහා සංඝරත්නයේ සරණ තුළ පිහිටන තාක් කල් තමයි මෙච්චර බැට කැමනාව. මෙච්චර කරදර, මෙච්චර බාධක. යම් මොහොතක ඔහු තිසරණයේ බලවත්ව පිහිටියාද, ඒ පිහිටියාට පස්සෙ බැට දීලා වට්ටන්න බෑ. ඒ නිසා මේ තෙරුවන් සරණ යනවා කියන එක නුවණින් විමසා විමසා ධර්මානුකූලවම සරණ යන්න ඕන. සෑයක් දකිනකොට සාදූ කියලා හිත පහදවන එකත් ශ්‍රද්ධාවක් තියෙනවා. බෝධීන් වහන්සේ නමක් දකිනකොට සාදූ කියලා හිත පහදවගන්න ශ්‍රද්ධාවකුත් තියෙනවා. සංඝයා ගොඩාක් පෙළට දකිනකොට සාදූ කියලා හිත පහදවගන්න ශ්‍රද්ධාවකුත් තියෙනවා. පූජාවක් කාරිය දකිනකොට සාදූ කියලා හිත පහදවගන්න ශ්‍රද්ධාවකුත් තියෙනවා. ඇත්තටම ගත්තොත් එහෙම ඇතිවෙන ශ්‍රද්ධාව පැහැදීම, තවත් කෙනෙකුට වට්ටන්න බැරි විදියට තියෙනවාද කියන එක විමසිය යුතු කාරණාවක්. නමුත් තමන් ධර්මය හොඳට ශ්‍රවණය කරලා ධර්මය විමසා විමසා ධර්මය තුළින් බුදුරජාණන් වහන්සේට පැහැදුනා නම් ධර්මය තුළින් ශ්‍රී සද්ධර්මයට පැහැදුනා නම්, ධර්මය තුළින් ආර්ය මහා සංඝරත්නයට පැහැදුනා නම්, ඒ ධර්මානුකූල පැහැදීම ධර්මයට අනුකූලව ඇතිවන පැහැදීම, ශ්‍රද්ධාව ඒක ස්ථිරසාරයි. ඒකයි බුදුරජාණන් වහන්සේ ශ්‍රද්ධාවේ කොටස් දෙකක් වදාළේ. අමූලිකා ශ්‍රද්ධා, ඒ වගේම ආකාරවතී ශ්‍රද්ධා කියලා. එතකොට අමූලිකා ශ්‍රද්ධා, ආකාරවතී ශ්‍රද්ධාව කියන එක කොයි වගේ දෙයක්ද කියලා විමසන්න ඕන, ගොඩාක් දුරට බලනකොට ශ්‍රද්ධාව කියලා අපි අද කාලෙ ගොඩාක් පාවිච්චි කරන්නෙ අමූලිකා ශ්‍රද්ධාව. ඒ කියන්නෙ මනුස්සයෙක්ගේ හිතේ ඇතිවෙන පැහැදීමට. සමහර විට ඔබ තුළ තියෙන්නෙ අමූලිකා ශ්‍රද්ධාව වෙන්න පුලුවන්. හැබැයි ඒ පැහැදීම කරුණු රහිත වෙන්න පුලුවන්. ඒ කියන්නෙ ඒ මොහොතේ ඇතිවෙච්ච ප්‍රසාදයක් වෙන්න පුලුවන්. ආකාරවතී ශ්‍රද්ධාව කියන එක ඊට වැඩිය වෙනස්. දැන් මං මේ මොකක්ද කියන්න යන්නේ කියලා ඔබට වෙලාවකට හිතෙන්න පුලුවන් මොකක්ද මේ එකපාරම ස්වාමීන් වහන්සේ අද මේ ආකාරවතී ශ්‍රද්ධාවයි, අමූලිකා ශ්‍රද්ධාවයි ගත්තෙ. දැන් අපි බොහෝ කාලයක් ධර්මය ශ්‍රවණය කලා. අපි සම්බුදු සරණම ඒ දහම් වැඩසටහන ගත්තොත් එහෙම 76 වෙනි දහම් වැඩසටහන. එතකොට ඒ දහම් වැඩසටහන ගත්තොත් එහෙම මෙච්චර කාලයක් ගොඩාක් ධර්මය,

බුදුරජාණන් වහන්සේගේ සරණ අපි ගත්තොත් විවරණ ගත්තු දවසේ පටන් මේ ධර්මය අපි කතා කරන්නෙ. විවරණ ගත්තු කතාවේ පටන්. දස පාරමී, දස උප පාරමී, දස පරමත්ථ පාරමී, සම්බුද්ධත්ව චරිතය, දසබල ඥාණ, විශාරද ඥාණ. ඊළඟට නව අරහාදී බුදුගුණ, ෂඩ් අසාධාරණ ඥාණ, ඊළඟට මේ ආදී වශයෙන් බුදුරජාණන් වහන්සේගේ අනේක ගුණ කතා කලා. ඊළඟට බුදුරජාණන් වහන්සේ ලෝකෙ බලවේගවලට, වාද විවාද වලට මුහුණ දුන්නු ආකාරය. එතකොට මේවා ශ්‍රවණය කරද්දි, ශ්‍රවණය කරද්දී හිතේ ඇතිවෙනවානම් පැහැදීමක් අනේ අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ මෙහෙම කෙනෙක්නේ කියලා අන්න ඒ ධර්මානුකූල පැහැදීම ආකාරවතී ශ්‍රද්ධාවට ආසන්නයි. ඒ කාරණාව ඔබ තුළ තියෙන ශ්‍රද්ධාව අමූලිකා ශ්‍රද්ධාවක් ද, ආකාරවතී ශ්‍රද්ධාවක්ද කියලා තේරුම් ගන්න පුලුවන් සූත්‍ර දේශනාවක් අද කතා කරන්නෙ. මේ දේශනාවෙ තමයි ආකාරවතී ශ්‍රද්ධාව මොකක්ද කියලා විස්තර කරන්නෙ. දැන් අපි ඒ දේශනාව ඉගෙන ගනිමු. මේ දේශනාවෙ නම වීමංසක සූත්‍රය. නුවණින් විමසීම ගැන වදාළ දෙසුම. එතකොට බුදුරජාණන් වහන්සේ ඒ කාලයේ වැඩ සිටියේ සැවැත් නුවර ජේතවනාරාමයේ අනේපිඬු සිටුතුමාගේ ආරාමයේ. භික්ෂු සංඝයා අමතා වදාළා. බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, පරසිත් දන්නා නුවණ නැති භික්ෂුවක් ඉන්න පුලුවනි, ඔන්න භික්ෂුවක් ඉන්නවා අනිත් අයගේ හිත බලන්න බෑ. හැබැයි එයාට අනිත් අයගේ හිත බලන්න බැරි වුනාට නුවණින් විමසන්න පුලුවන්. ඔන්න දැන් තේරෙනවාද, ඍද්ධිය කියන්නෙ වෙනම එකක්, යෝනිසොමනසිකාරය කියන්නෙ වෙනම එකක්. හිත් දකින ඥාණය වෙනම එකක්, යෝනිසොමනසිකාරය කියන්නෙ වෙනම එකක්. දැන් බුදුරජාණන් වහන්සේ වදාළා කෙනෙක් ඉන්නවා අනිත් අයගෙ හිත බලන්න බෑ, හැබැයි මේ භික්ෂුවට යෝනිසොමනසිකාරය තියෙනවා. නුවණින් විමසන්න පුලුවන්, කරුණු හොඳට විමසන්න පුලුවන්. අන්න ඒ භික්ෂුව විසින් මේ සම්මා සම්බුදුවරයෙක්ද නැද්ද කියලා දැනගැනීම පිණිස තථාගතයන් වහන්සේ ගැන නුවණින් පරීක්ෂා කරලා බලන්න ඕනෑ. ඒ කෙනාට මේ බුදුරජාණන් වහන්සේ කියන්නෙ කොයි වගේ කෙනෙක්ද කියලා නුවණින් විමසලා සළකලා බලන්න පුලුවන්. පරසිත් දන්නා නුවණ තියෙනවා නම් බුදුරජාණන් වහන්සේ ගැන බලනකොටම සම්මා සම්බුදු කෙනෙක්මයි කියලා සිත් බලනා නුවණින් යම් වැටහීමකට එන්න පුලුවන්. ඊටපස්සෙ සංඝයා කියාහිටියා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, භාග්‍යවතුන් වහන්සේ මුල් කරගෙනනෙ මේ ධර්මය

තියෙන්නෙ. භාග්‍යවතුන් වහන්සේ නායකත්වය කරගෙනනෙ. ඉතින් භාග්‍යවතුන් වහන්සේගේ පිළිසරණ මතනෙ අපිට ධර්මය තියෙන්නෙ. ඒ නිසා භාග්‍යවතුන් වහන්සේ ඔය වදාළ කාරණාව විස්තර වශයෙන් අපිට කියලා දෙනවානම් කොයිතරම් හොඳද, අපිට ඒවා මතක තියාගන්න පුලුවන් කියලා බුදුරජාණන් වහන්සේගෙන්ම ඇහුවා කොහොමද හිත බලන් නැතිව තමන්ම නුවණින් විමසලා බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුදුවරයෙක්ද නැද්ද කියලා හොයන්නෙ කොහොමද, හිත බලන්නෙ නැතිව තමන්ටම කල්පනා කරලා. බුදුරජාණන් වහන්සේ වදාළා එහෙනම් පින්වත් මහණෙනි මම කියලා දෙන්නම් හොඳට නුවණින් තේරුම් ගන්න ඒ විස්තරය. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, පරසිත් දැනීමේ - චේතෝපරිය ඥාණය නෑ කෙනෙකුට, හිත බලන්න බෑ අනිත් කෙනාගේ. හැබැයි ඔහුට නුවණින් විමසන්න පුලුවන්. ආන්න ඒ භික්ෂුව විසින් කරුණු දෙකක් ඔස්සේ තථාගතයන් වහන්සේ ගැන නුවණින් පරීක්ෂා කරලා බලන්න ඕන. ඒ කරුණු දෙක මොකක්ද හොඳට ඇහින් බලද්දි, හොඳට කණින් අහද්දි, හොඳට ඇස් දෙකෙන් බලන්න ඕන බුදුරජාණන් වහන්සේ දිහා, හොඳට කන් දෙකෙන් අහන්න ඕන බුදුරජාණන් වහන්සේ කියන දේවල්. ඒ කරුණු දෙක ඔස්සේ තමයි පරීක්ෂා කරන්න ඕන. එහෙනම් බුදුරජාණන් වහන්සේ ගැනත් බුදු කෙනෙක්ද මේ නැත්ද කියලා තේරුම් ගන්න ඉස්සෙල්ලා බලන්න කිව්වා ඇස් දෙකෙන් බලාපල්ලා කිව්වා. කන් දෙකෙන් අහපල්ලා කිව්වා. ඇස් දෙකෙන් බලද්දි, හොඳට කන් දෙකෙන් අහද්දි බලන්න කිව්වා ඒ ඇස් දෙකෙන් බලනකොට, කන් දෙකෙන් අහනකොට තථාගතයන් වහන්සේ තුළ කෙලෙස් තියෙනවාද කියලා. එහෙනම් අනිත් අය තුළ කෙලෙස් තියෙනවාද කියලා ඇස් දෙකෙන් බලලා තේරුම් ගන්නත් පුලුවන්, කන් දෙකෙන් අහලා තේරුම් ගන්නත් පුලුවන්. ඉතින් ඒ භික්ෂුව හොඳට විමසනවා. ඇහෙන් හොඳට බලද්දි, කණෙන් හොඳට අහද්දි දැකගන්න පුලුවන් කෙලෙස් තියෙනවා නම්, එබඳු කෙලෙස් බුදුරජාණන් වහන්සේට නෑ කියලා තමයි එයාට පේන්නෙ. අපි මේ දේශනාවෙන් අනතුරුව කියලා දෙන්නම් බ්‍රහ්මායු කියලා සූත්‍ර දේශනාවක් තියෙනවා. ඇහෙන් බලද්දි කණෙන් අහද්දි උත්තර කියන මානවකයා පියවරක් පියවරක් පාසා බුදුරජාණන් වහන්සේ ඇස් දෙකෙන් බලනවා. කන් දෙකෙන් අහනවා, බුදු කෙනෙක් කියන්නෙ කොහොම කෙනෙක්ද කියලා. මාස හතක්. එක දිගටම, මාස හතක් බුදුරජාණන් වහන්සේගේ පිටිපස්සෙ යනවා බුදුරජාණන් වහන්සේ දිහා බලන්නම, ඒ කියන්නෙ අඩුපාඩුවක්, වැරැද්දක්, කරන කියන දේවල්

බලන්නමයි යන්නෙ. ඊටපස්සෙ එයා මොනවද දැක්කේ කියලා ඒ බ්‍රහ්මායු සූත්‍ර දේශනාවේ තියෙනවා. අපි ඒක මේ දේශනාවෙන් පස්සෙ ඊළඟ දවසේ කතා කරමු. කවදාවත් දකින්න වෙන් නෑ කෙලේශයක්. ඊළඟට බුදු කෙනෙක්ගේ ජීවිතය තුළ වැරදි අඩුපාඩු දෝෂ දකින්න බෑ. අහන්න බෑ. බුදුරජාණන් වහන්සේ කියන දේවල් වලින්, ධර්මය තුළින් මේකෙන් බුදුරජාණන් වහන්සේගේ අහවල් වැරැද්ද පේනවානෙ, අහවල් වැරැද්ද තියෙනවානෙ කියලා මේ ලෝකෙ කිසි කෙනෙකුට දකින්න බෑ, හේතුව දකින්න බැරි ඇයි. එවැනි දෙයක් බුදුරජාණන් වහන්සේ තුළ නැති නිසා කෙසේ නම් දකින්න ද. ඊටපස්සෙ ඔන්න ඒ භික්ෂුව නුවණින් හොඳට පරීක්ෂා කරලා බලද්දි ඇහෙන් හොඳට බලද්දි, කණෙන් අහද්දි කෙලෙස් දකින්න ලැබෙන් නෑනෙ. ඊටපස්සෙ ඒ භික්ෂුව තවදුරටත් පරීක්ෂා කරන්න ඕන. ඇහෙන් හොඳට බලනකොට, කණෙන් හොඳට අහනකොට කලින් කලට අල්ලගන්න පුලුවන් කෙලෙස් තියෙනවා. කාලෙන් කාලෙට කෙලෙස් හටගන්නවා. ආන්න ඒවා බුදුරජාණන් වහන්සේ තුළ තියෙනවාද කියලා. සමහර වෙලාවට හොඳට ශාන්තයි, ශාන්තදාන්ත තීන්ත කූඩුව. ඒ වුනාට කාලයක් යනකොට බලන්න ඕන, ඒ අයගේ වැඩකිඩ. දැන් ඕවා මතක නැද්ද ඔහොම එකක් තියෙනවා කකචූපම සූත්‍රයේ වේදෙහිකා කියලා. වේදෙහිකා කියන නෝනා හරී ඉවසිලිවන්තයි තරහ යන්නෑ, මෛත්‍රී සම්ප්‍රයුක්තයි කියලා මහා ඝෝෂාවක් කීර්ති ඝෝෂාවක් පැතිරිලා ගියා. ඇත්තටම තරහ යන්නෑ වේදෙහිකා නෝනට. බුද්ධ කාලෙ. ඊටපස්සෙ ඒ ගෙදර වැඩ කලා උත්තරා කියලා වැඩකාර කෙල්ලෙක්. ඊටපස්සෙ මේ කෙල්ල කල්පනා කලා මේ අපේ මැඩම්ට තරහා යන්නෙ නැත්තෙ ඇත්තටමද. එහෙම නැත්නම් මෙයා මම හොඳට ගෙදර හැම වැඩක්ම වෙලාවට පිළිවෙලට බලලා කරන නිසාද දන්නෑ මෙයා - ඇයි තරහා යන්න අවස්ථාවක් යෙදෙන් නෑනෙ, කියලා තේරුම් අරන් මොකද කලේ එදා පහුවදා එක දවසක් මෙයා ටිකක් පරක්කු වෙලා ඇහැරුනා. වෙනදා උදේ පාන්දර හතරට නැගිටලා මෙයා වතුර ගෙනල්ලා ඔක්කොම කරනවා. මෙදා හය වෙනකල් නිදාගත්තා. ඊටපස්සෙ වේදෙහිකා නෝනා ඇවිල්ලා ඇහුවා මොකද කෙල්ලේ? ඊටපස්සෙ කිව්වා අනේ නෝනා, නෑ නිකං නින්ද ගියා. නිහඬව දැන් එයා ගියා, කතාවක් නෑ දැන්. ඊටපස්සෙ පොඩ්ඩක් දැනුනා වෙනදට වැඩිය මූණ පොඩ්ඩක් වෙනස් ගතියක් දැනුනා උත්තරාට. ඊටපස්සෙ දෙවෙනි දවසේ වේදෙහිකා නෝනා බැලුවා මේ කෙල්ල තාම නිදි, එදා හත වෙනකල් නිදි. ඊටපස්සෙ මොකද මේ කියලා ඇහුවා. ඊටපස්සෙ කිව්වා නෑ නිකං, අනේ මන්දා කියලා ඔන්න හැරිලා ගියා. එදත් මූණ

වෙනස්. තුන්වෙනි දවසේ මෙයා නිදාගත්තා අට වෙනකල්. ඊටපස්සෙ වේදෙහිකා නෝනා ආවා. ඇවිල්ලා කිව්වා මොකද මේ, උඹ දැන් නිදාගන්නවා වැඩියි, දැන් දවස් දෙක තුනක් කිව්වා. දැන් ඔන්න ටිකක් වෙනස්. ඊළඟ දවසෙත් අට වෙනකල් නිදාගත්තා. වේදෙහිකා නෝනා පොල්ලක් අරන් ඇවිල්ලා නැගිටපිය, කියලා ගැහුවනෙ ඔළුවට. හොඳටම ගැහුවා. අර වැඩකාර කෙල්ල එළියට බැහැලා වීදියක් වීදියක් ගානෙ කෑ ගගහා ගියා බලාපල්ලා තරහා යන්නැති මැඩම් කරපු වැඩේ, උඹලා දැන් කිව්වා නේද වේදෙහිකා නෝනට තරහ යන්නෑ කියලා, මේ මගේ ඔළුව පැලුවෝ කියලා කෑගගහා ගියා. කාලෙන් කාලෙට හටගන්නවා. සමහර අයට තියෙනවා ලාභ සත්කාර කීර්ති ප්‍රශංසා ආදිය ලැබෙන තාක් කල්, එහෙම නැත්නම් තමන්ට උපස්ථාන ලැබෙන තාක් කල් කෙලෙස් හටගන් නෑ. ඒවා හටගත්තාම තමයි කෙලෙස් ප්‍රකට වෙන්න ගන්නෙ. කාලෙන් කාලෙට තියෙන කෙලෙස් තියෙනවා. සමහර කෙලෙස් තියෙනවා මාසෙ පුර, අව කියන පක්ෂ දෙකෙන් එකක පැනනැගෙනවා. සමහර කෙලෙස් තියෙනවා මාස දෙක තුනකට සැරයක් මතුවෙනවා. ඒ වගේ දැන් අපි ගත්තොත් එහෙම කාලෙන් කාලෙට ඉස්මතු වෙන කෙලෙස් කියන්නෙ, ඔයාලට උදාහරණයක් මම කියන්නම්. දැන් අපි ගත්තොත් මේ සුනඛයෝ මේ බල්ලන්ගේ රාග ගින්න ඇවිස්සෙන කාලයක් තියෙනවා. ඒ කාලෙ ආවට පස්සෙ උන් රැලේ යනවා. ඇත්තුන්ගේ මද කිපෙන කාලයක් එනවා. ඒ වගේ ඒ කෙලෙස් කාලෙන් කාලෙට ඇවිස්සෙන්නෙ. කාලෙන් කාලෙට ඇවිස්සෙනවා කියලා එකකුත් තියෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා මිනිස්සු තුළ ඇවිස්සෙන කෙලෙස් තියෙනවානෙ කාලෙන් කාලෙට. හොඳට ශාන්තව ඉන්නවා, කාලෙන් කාලෙට කෙලෙස් ඇවිස්සෙන්නෙ. බලන්න කිව්වා ඇස් දෙකෙන් හොඳට. කන් දෙකෙන් හොඳට අහන්න කිව්වා බුදුරජාණන් වහන්සේගේ ඉරියව් තුළ, රූපය තුළ එහෙම නැත්නම් බුදුරජාණන් වහන්සේ දේශනා කරන ධර්මය තුළ කාලෙන් කාලෙට ඇවිස්සෙන කෙලෙස් ස්වභාවයන් සම්මා සම්බුදු කෙනෙක් තුළ තියෙනවාද කියලා. ඔහොම නුවණින් විමසන්න පුලුවන්. හොඳ තේරෙන භික්ෂුවක් හොඳට විමසද්දි, විමසද්දි ඇහෙන් හොඳට බලද්දි, කණෙන් හොඳට අහද්දි කාලෙන් කාලෙට වෙනස් වෙන කෙලෙස් කිසිම දෙයක් බුදු කෙනෙක් තුළ නම් දකින්න ලැබෙන් නෑ, හේතුව බුදුරජාණන් වහන්සේ තුළ ඒ වගේ දේවල් නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා යම් දවසක ඒ භික්ෂුව ඔය විදියට හොඳට පරීක්ෂා කරලා දැනගත්තා නම් ඇහෙන්, කණින් හොඳින් විමසනකොට කලින් කලට වෙනස් වෙන කෙලෙස් තියෙනවා,

ඒවා බුදුරජාණන් වහන්සේ තුළ නෑ කියලා, එයා හොඳට පරීක්ෂා කරලා බලන්න ඕන හොඳට ඇහින් බලන්න ඕන, හොඳට කණින් අහන්න ඕන මොකක්ද මනුස්සයෙක්ගේ ජීවිතයේ පිරිසිදු වෙන දේවල් තියෙනවාද, තථාගතයන් වහන්සේ තුළ ඒ පිරිසිදු වෙන දේවල් තියෙනවාද නැද්ද කියලා බලන්න ඕන. හොඳට ඇහෙන් බලද්දි, හොඳට කණෙන් අහද්දි දැනගන්න පුලුවන් ඉතා පිරිසිදු දේවල් බුදුරජාණන් වහන්සේ තුළ තියෙනවා කියලා. ඉතාමත් පාරිශුද්ධ ධර්මයෝ සීලය, සමාධිය, ප්‍රඥාව, මහා කරුණාව, අනන්ත මෛත්‍රිය පැතිරුණ උන්වහන්සේගේ ශාන්ත බව, කාරුණික බව, ලෝකෙට දහම් දේශනා කරන බව, කෙලෙස් එක්ක නොතැවරී සිටින බව, පරම පාරිශුද්ධ ජීවිතය ඇහින් බලනකොට කණින් හොඳට අහනකොට ඒකම ප්‍රකට වෙන්න ගන්නවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා තව විමසන්න. තව ඇස් දෙකෙන් හොඳට බලන්න. කන් දෙකෙන් හොඳට අහන්න. දැන් අපිට ඇස් දෙකෙන් බුදුරජාණන් වහන්සේ දිහා බලන්න විදියක් නෑනෙ දැන්. දැන් අපිට තියෙන්නෙ කන් දෙකෙන් හොඳට අහන එක මේ ධර්මය. අහලා දැන් මෙතෙක් අපි බුදුරජාණන් වහන්සේගේ ජීවිතය ගැන කිය කියා තවම එනවානෙ. බලන්න ඔච්චර කියපු ධර්මදේශනා හැත්තෑහයම අහන්න. අහලා බලන්න බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ කෙලෙස් තියෙනවාද කියලා. කාලෙන් කාලෙට ඇවිස්සෙන කෙලෙස් තියෙනවාද කියලා. හැම දේශනාවකින්ම බුදුරජාණන් වහන්සේගේ පාරිශුද්ධ සම්බුදු ජීවිතය නෙවෙයිද ප්‍රකට වෙන්නෙ. නතර කරන්න එපා, තවත් විමසන්න කිව්වා. මේ ධර්මය අහ අහා, කොහොමද විමසන්නෙ. මේ තථාගතයන් වහන්සේ බොහෝ කාලයක සිටද මේ කුසල් ඇතිව සිටින්නෙ. නැත්නම් ළඟකදී ඉඳලද කියලා නුවණින් විමසන්න කිව්වා. මේ ඊයෙ පෙරේදා ඉඳලද මේ ශාන්ත බව පුරුදු කරන්නෙ, නැත්නම් බොහෝ කාලයක ඉඳලද කියලා නුවණින් විමසන්න. විමසනකොට තේරෙනවා බුදුරජාණන් වහන්සේ නමක් මේ ගුණධර්ම දියුණු කරන්නෙ බොහෝ කාලෙක ඉඳලා. දැන් ඒ කාලෙ නම්, අද කාලෙ අපි ජාතක කතා අහලා තියෙනවානෙ. ජාතක කතා වල තියෙන බෝධිසත්ත්වයන්ගේ පාරිශුද්ධ බව බලන්න. බෝධිසත්ත්වයන් වහන්සේ තිරිසන් ලෝකෙක ඉපදුනත් ඒ සත්ත්වයා ආශ්චර්‍යයී අද්භූත සත්ත්වයෙක්. මාළුවෙක් වුනත් ඒ බෝධිසත්ත්වයෙක් නම් ආශ්චර්‍යයී අද්භූත සත්ත්වයෙක්. එච්චර බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ හරි වෙනස්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා, බලන්න කිව්වා අද ඊයෙ ඉඳලද කියලා. දැන් සාමාන්‍යයෙන් බුදුරජාණන් වහන්සේගේ දේශනාවක්

තියෙනවා, බුදුරජාණන් වහන්සේ නිවසින් එළියට ආවේම තරුණ මදය ප්‍රහාණය කරලා. නිවසින් එළියට පා තිබ්බේම අභිනිෂ්ක්‍රමණය කරන්න පළවෙනි පා තිබ්බේම ආරෝග්‍ය මදය ප්‍රහාණය කරලා. ඊටපස්සෙ අභිනිෂ්ක්‍රමණය කරන්න පා තැබුවේම ජීවිත මදය ප්‍රහාණය කරලා. ඊටපස්සෙ දුෂ්කර ක්‍රියා කරන අවුරුදු හයේම පියවරක් පාසා මාරයා ළඟ හිටියා කියනවා සිත කය වචනය, එහෙම නැත්නම් ඇස කණ නාසය දිව මනස කියන ආයතන හයේ අසංවර වෙන මොහොතක් වත් තියෙනවාද කියලා බලන්න හිටියා කියනවා, කොයි හරි මොහොතක හිත අසංවර වුනාද, ඉන්ද්‍රියන් අසංවර වුනාද ඒ මොහොතේ තමන්ගේ වසඟයට ගන්න ඕන කියලා. එතකොට ඒ අවුරුදු හයක් දුෂ්කර ක්‍රියා කරන කාලයේදී ඒ වගේම සම්මා සම්බුදු වෙලා ඒ අවුරුද්ද තුලයි අවුරුදු හතක් පිටිපස්සෙන් ආවා කියනවා. අවසානයේ මාරයාම කියනවා මම තෙල් පාට ගලකට මස් කෑල්ලක් කියලා රැවටුනා. අවසානේ කපුටො එක එක වටවෙලා මේ මස් කෑල්ල කනවා කියලා කොට කොටා ඉඳලා අවසානෙ මොකවත් නැතිවම යනවා වගේ පියවරක් පියවරක් පාසා අවුරුදු හතක් මං ආවා කියනවා පිටිපස්සෙන්, කිසීම දෝෂයක් අඩුපාඩුවක් දකින්න ලැබුන් නෑ කියනවා. එහෙනම් සම්මා සම්බුදු කෙනෙක්ගේ ජීවිතයේ ගුණධර්ම වල පුරාණ බව ගැන කවර කතාද. අද ඊයෙ මිනිස්සුන්ට පේන්න හදාගත්තු ගුණධර්ම, ප්‍රකට වෙන්න හදාගත්තු ගුණධර්ම නෙවෙයි බුදු කෙනෙකුට තියෙන්නෙ. ඉතින් ඒ නිසා නුවණින් විමසනකොට පේනවා බුදුරජාණන් වහන්සේගේ මේ පිරිසිදු ජීවිතය බොහෝ කාලෙක ඉඳලා පුරුදු කරපු ඒවා. සම්මා සම්බුද්ධත්වයට පත්වෙන්න කලින් ඉඳලා තිබුනු දේවල්. සම්මා සම්බුද්ධත්වයට පත්වුනාට පස්සෙ ඒ සියලු ගුණධර්ම පරිපූර්ණත්වයට පත්වුනා. සම්බුදු වෙලා පස්සෙ හදාගන්න ඕන කියලා ගුණධර්මයක් නෑ, ඒ සියල්වූ ගුණධර්ම වලින් පාරප්‍රාප්ත වුනා සම්මා සම්බුදු කෙනෙක් වජිරාසනයේ සම්බුද්ධත්වයට පත්වෙන මොහොතේ. ඊටපස්සෙ බලන්න කිව්වා එතකොට මෙයාට පේනවා නුවණින් විමස විමසා බලනකොට බුදුරජාණන් වහන්සේ බොහෝ කාලෙක ඉඳලයි මේ ගුණධර්ම ඇතිව ඉන්නෙ. ඊටපස්සෙ යම් දවසක ඒ භික්ෂුව නුවණින් විමසා පරීක්ෂා කර කර බලද්දි දැනගත්තොත් එහෙම මේ භාග්‍යවතුන් වහන්සේ බොහෝ කාලයක ඉඳලායි මේ ගුණධර්ම එක්ක ඉන්නෙ, ළඟදි ඉඳලා නෙවෙයි කියලා, තවදුරටත් විමසන්න. නතර වෙන්න එපා. තථාගතයන් වහන්සේ ගොඩාක් ප්‍රසිද්ධ වෙලා කීර්තිමත්ව ඉන්නෙ. නමුත් ඒ තුළින් උන්වහන්සේගේ ජීවිතය තුළ කිසියම් පිරිහීමක් දකින්න ලැබෙනවාද

කියලා. පින්වත් මහණෙනි, ප්‍රසිද්ධ නොවෙනතාක්, කීර්තිමත් නොවෙනතාක් මෙහි ඇතැම් භික්ෂුවකගේ පිරිහීමක් දකින්නට ලැබෙන් නෑ. නමුත් පින්වත් මහණෙනි යම් දවසක ප්‍රසිද්ධියට පත්වුනාම කීර්තිමත් වුනාම මෙහි ඇතැම් භික්ෂුවකගේ පිරිහීමක් දකින්නට ලැබෙනවා. ප්‍රසිද්ධ වෙනකල් කීර්තිමත් වෙනකල් බොහෝම ශාන්ත දාන්තව අහිංසකව ඉන්නවා කෙනෙක්. නමුත් ප්‍රසිද්ධ වුනාම කීර්තිමත් වුනාම තවත් සමහර අයගේ පිරිහීමක් දකින්න ලැබෙනවා. අද කොච්චර තියෙනවාද, ප්‍රසිද්ධියට පත්වුනාම, කීර්තියට පත්වුනාම තමන්ගේ ගුණ වනසාගන්නවා. ඉතින් කියනවා හොඳට විමසන්න කියනවා බුදුරජාණන් වහන්සේ ගැන. බුදුරජාණන් වහන්සේ දිහා බලනකොට බුදුරජාණන් වහන්සේ නාලොව නාගයින්ගෙන් ප්‍රශංසා ලැබුන, උපස්ථාන ලැබුන කෙනෙක්. ඒ වගේම මිනිස්සුන්ගෙන්, සුර අසුරයන්ගෙන්, දෙවියන්ගෙන්, බ්‍රහ්මයන්ගෙන් තුන්ලෝක වාසීන්ගෙන්ම පිදුම් ලැබූ ඒ තුන් ලෝකය පුරාම පැතිරුණු කීර්තිය ඇති ප්‍රසිද්ධිය ඇති සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක්. එතකොට මේ ලෝකෙ කීර්තිය ප්‍රසිද්ධිය වැඩිපුරම තියෙන්නෙ බුදුරජාණන් වහන්සේටනෙ. සෑම කෙනාගෙම තමන්ට ශක්ති පමණින් ගුණ වර්ණනාවෙන් පිදුම් ලැබුවානෙ. මේ වෙනකොට බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් කොච්චර නම් ආමිස පූජාවන්, කොච්චර නම් ප්‍රතිපත්ති පූජාවන් පූජා කලාද, මේ වෙනකොට බුදුරජාණන් වහන්සේ වෙනුවෙන් කොයිතරම් නම් රහතන් වහන්සේලා වන්දනාමාන කරලා තියෙනවාද. මේ වෙනකොට බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ අකුරු කීයකින් නම් ලියවිලා තියෙනවාද. ඒ නිසා මෙච්චර ප්‍රසිද්ධියක් ගත්තොත් එහෙම අපි අද කාලෙ හැටියට මෙච්චර බුදුගුණ, බුදුරජාණන් වහන්සේගේ කීර්තිය ප්‍රසිද්ධිය, ඇත්තටම බුදුරජාණන් වහන්සේ නමක් තුළ කීර්තිය, ප්‍රසිද්ධිය තුළින් පැනනැගෙන කෙළෙස් තියෙනවාද කියලා බලන්න කිව්වා. හොඳට නුවණින් විමසා විමසා බලද්දි කීර්තියට පත්වෙද්දි, ප්‍රසිද්ධියට පත්වෙද්දි බුදුරජාණන් වහන්සේගේ කෙළෙස් හටගන්නවා කියලා එකක් නෑ. ඊටපස්සෙ යම් දවසක භික්ෂුව ඔය විදියට නුවණින් විමසා පරීක්ෂා කරලා බලද්දි මේ භාග්‍යවතුන් වහන්සේ ප්‍රසිද්ධ තමයි, කීර්තිමත් තමයි, නමුත් උන්වහන්සේ තුළි කිසිදු පිරිහීමක් දකින්න නෑ කියලා එතකොට ඒ භික්ෂුව තථාගතයන් වහන්සේ ගැන තවදුරටත් පරීක්ෂා කරලා බලන්න ඕන, මේ ආයුෂ්මතුන් ඇත්තෙන්ම බිය රහිත භාවයට පත්වී සිටින කෙනෙක් ද, බිය සහිත කෙනෙක්ද, රාගය ක්ෂය වීම නිසා වීතරාගී බව තුළින් කාමයන්ගෙන් වැළකී සිටින කෙනෙක්ද කියලා. එතකොට ඒ භික්ෂුව හොඳට නුවණින් විමසලා

බලනවා කොහොමද මේ භාග්‍යවතුන් වහන්සේ තථාගතයන් වහන්සේ බිය නැති කෙනෙක් ද, ඒ වගේම රාගය දුරු කරලාම කාමයන්ගෙන් වැළකී ඉන්නවාද, නැත්නම් හිතේ කාමය හිර කරගෙන - දැන් සාමාන්‍යයෙන් අද කාලෙ කාමයෙන් වැළකී ඉන්නවා කියලා එකක් කරනවා නම්, එහෙම නැත්නම් බ්‍රහ්මචාරී බවක් පුරුදු කරනවා නම් ඒවා කෙළෙස් තව තවා කරන්නෙ. ඒ කියන්නෙ වතුර භාජනයක හුළං බෝලයක් ඇතුලට දාගෙන ඉන්නවා වාගේ තමයි අද කාලෙ කාමය යටපත් කරන්නෙ. මොහොතක් හරි අර දහම් මනසිකාරය, තමන්ගෙ ප්‍රතිපත්තිය පොඩ්ඩක් බැහැර වෙච්චි ගමන් අර වතුර ඇතුලට දාපු හුලං බෝලය වගේ උඩට එනවා, කෙළෙස් ගඟ. බලන්න කියනවා බුදුවරුන් ඒවගේද කියලා. බලනකොට තේරෙනවා බුදුරජාණන් වන්සේ තුළ රාගය නෑ, ප්‍රහාණය වෙලා. ඒ නිසා බුදුවරු කාමයට ඇල්මක් කරන් නෑ. ඒක බලෙන් සිල් පදයක් තුළින් සමාධිය තුළින් එහෙම රඳවාගෙන ඉන්න එකක් නෙවෙයි. ඇත්තටම බුදුරජාණන් වහන්සේ තුළ රාගය ප්‍රහාණය වෙලා. ඒ නිසා කාමය කෙරෙහි උන්වහන්සේලාගේ බැසගැනීමක් නෑ. කාමාශාවක් කාම තෘප්තියක් කාම සෙවීමක් බුදුවරු තුළ නෑ. එතකොට දැන් මේක හොදට නුවණින් විමසනවා. ඒ වගේම තමයි නුවණින් විමසන්න කිව්වා බය රහිත කෙනෙක්ද කියලා. දැන් සමහර අය හරී බයයි. දැන් අපි ගත්තොත් එහෙම බයයි කියලා, අපි කියමුකො වෙහෙරක් කියලා, වෙහෙරක සමහර වෙලාවට පොඩි හාමුදුරුවො වෙහෙරෙ හැම කටයුත්තක්ම කරන්න යනවා නම් නායක හාමුදුරුවො සමහර වෙලාවට බය වෙන්න පුලුවන්, මේ පොඩි නම දැන් මේක අල්ලගන්නද යන්නෙ කියලා. ඊටපස්සෙ තවත් කෙනෙකුට පිරිස් එකතු වෙනවා නම් අනිත් එක්කෙනා බයවෙන්න පුලුවන්, මෙයා දැන් අල්ලගන්නද යන්නේ ඒක කියලා. එතකොට බලන්න එහෙනම් බුදු කෙනෙක්ගේ තුළ ඒක තියෙනවා ද කියලා. ඒ වගේම පිරිසට මුහුණ දෙන්න බයයි ද. පිරිසකට කරුණු දක්වන්න බයයි ද, එතකොට එයාට පේනවා දෙවියන්, මරුන්, බඹුන් සහිත ලෝකයේ බුදුරජාණන් වහන්සේ සියලූම දෙනා මැදට විශාරදව ගමන් කරනවා. බුදුරජාණන් වහන්සේගේ සතළිස් පස් වසරක් සම්බුදු ජීවිතය පුරාවටම බුදුරජාණන් වහන්සේට බයක් ඇතිවෙච්චි මොහොතක් නෑ. තැතිගැනීමක් ඇතිවෙච්චි මොහොතක් නෑ. හතළිස් පස් වසරක් පුරාවට. ඊළඟට බුදුරජාණන් වහන්සේ පළාගිය මොහොතක් නෑ. එකම එක මොහොතක්, අසුරු සැණක් වත් නෑ. ඒ නිසානෙ බයක් තැතිගැනීමක් ආවොත් බුදුරජාණන් වහන්සේව සිහිකරන්න කිව්වෙ. ඒකට හේතුව තමයි තථාගතො භික්ඛවෙ අරහං සම්මා

සම්බුද්ධො වීතරාගො වීතදොසො වීතමොහො අභීර්වච්ඡම්බි අනුත්‍රාසී අවලායිති, බුදුරජාණන් වහන්සේ රාගය දුරු කලා, ද්වේෂය දුරු කලා, මෝහය දුරු කලා. බය නෑ, තැතිගන්නෙ නෑ, පලා යන්නෙ නෑ. ඒ නිසා භයක් තැතිගැනීමක් ආවොත් බුදුරජාණන් වහන්සේව සිහි කරන්න කියලා බුදුරජාණන් වහන්සේ වදාළේ. ඒ නිසා බිය නැතිව ඒ වගේම විරාගී සිතකින් සම්බුදු කෙනෙක් ලෝකයේ වැඩ ඉන්නේ කියලා බුදුරජාණන් වහන්සේගේ ජීවිතය හොඳට ඉගෙන ගන්න කෙනෙකුට තේරෙන්න ගන්නවා. හොඳට තේරෙන්න ගන්නවා. ධර්මය තුළින්නෙ දැන් ඉගෙන ගන්නෙ. අරයා හොඳට විමසනවා. එතකොට පින්වත් මහණෙනි, ඔන්න දැන් භික්ෂුවට තේරෙනවානෙ මේක තේරුණාට පස්සේ ඒ භික්ෂුවගෙන් අනිත් උදවිය අහන්න පුලුවනි, ඒ මොකක්ද ඒ ආයුෂ්මතුන් මොන ස්වභායක් දැකලද, මොන ධර්මතාවයක් දැකලාද ඔය විදියට කියන්නෙ, මේ ආයුෂ්මතුන් බිය රහිත බවට පත්වෙලා ඉන්නෙ, බිය සහිතව නොවෙයි, රාගය ක්ෂය වීම නිසා වීතරාගී බවට පත්වෙලයි කාමයන්ගෙන් වැළකී සිටින්නෙ කියලා. දැන් අපි කිව්වානෙ බුදුරජාණන් වහන්සේ තුළ රාග, ද්වේෂ, මෝහාදිය නෑ, ඒ නිසා ඒ වගේම බය නෑ, එතකොට තවත් කෙනෙක් අහන්න පුලුවන් ඔබ කොහොමද ඔහොම කියන්නෙ? බුදුරජාණන් වහන්සේ බයක් සැකක් නැති කෙනෙක් කියලා. රාගය දුරු කරපු නිසාමයි මේ කාමයෙන් ඈත් වෙලා ඉන්නෙ කියලා කොහොමද ඔබ කියන්නෙ. කියනවා එතකොට සැබෑ ලෙසම භික්ෂුව කරුණු සහිතව කියනවානම් මේ විදියට තමයි කියන්නෙ. ඒ ආයුෂ්මතුන් භික්ෂු සංඝයා මැද වාසය කරනකොටත්, හුදෙකලාවේ ඉන්නකොටත් එහි යම් රහතුන් සිටිනවාද, එහි යම් නොමඟ ගියවුන් සිටිනවාද, එහි යම් කෙනෙක් පිරිසට අනුශාසනා කරයිද, කෙනෙක් ලාභ සත්කාර කීර්ති ප්‍රශංසා ආදී ආමිසයට ඇලෙයි ද, යම් කෙනෙක් ආමිසයෙන් නොඇලී ඉන්නවාද, ඉතින් මේ ආයුෂ්මතුන් ඒ කරුණින් ඒ භික්ෂුව හෙලා දකින් නෑ. මං මේ කාරණය භාග්‍යවතුන් වහන්සේගෙන්මයි ඇසුවෙ, භාග්‍යවතුන් වහන්සේගෙන්මයි දැනගත්තෙ. එනම් මම ඉන්නේ බිය රහිත භාවයට පත්වෙලායි. මම ඉන්නෙ බිය සහිතව නොවෙයි, රාගය ක්ෂය වීම නිසා වීතරාගී බවට පත්වෙලාමයි කාමයෙන් වැළකී සිටින්නේ කියලා බුදුරජාණන් වහන්සේගෙනුත් මම අහලා තියෙනවා. එතකොට මේක හරී ලස්සන කාරණාවක්. ඒ තමයි මේකෙ තියෙනවා බුදුරජාණන් වහන්සේ බිය රහිත කෙනෙක්. ඒ වගේම බුදුරජාණන් වහන්සේ රාගය දුරු කරපු නිසා කාමයන්ගෙන් ඈත් වෙලා ඉන්නවා කියන එක හොයාගන්න පුලුවන් ක්‍රමයක්

තමයි කියනවා, බුදුරජාණන් වහන්සේ සංඝයා මැද වාසය කරනකොට ඒ වගේම හුදෙකලාවේ ඉන්නකොටත්, ඊළඟට බුදුරජාණන් වහන්සේ ඇසුරු කරන පිරිස අතර රහතන් වහන්සේලා ඉන්නවා, ඒ වගේම නොමඟ ගිය අය ඉන්නවා, ඒ වගේම අනිත් අයට අනුශාසනා කරන අය ඉන්නවා, ලාභ සත්කාර හොයන අය ඉන්නවා. ඒ වගේ ලාභ සත්කාර හොයන්නැතිවුන් ඉන්නවා. මේ වගේ නානාප්‍රකාර පිරිස මැද බුදුරජාණන් වහන්සේ නිහඬව වැඩ සිටිනවා. අර්බුද ඇති කරගන් නෑ. අද කාලෙ අර්බුද මොකද මේ? අර්බුදය තමයි තැතිගැනීම උපදිනවා. ඊළඟට රාගය උපදිනවා. කෙළෙස් උපදිනවා. ඒ නිසා පුද්ගලයෝ වෙන් කර කර යනවා. මෙයා කට්ටියත් එක්ක ඇලෙනවා වැඩියි, මෙයා ලාභ සත්කාර වලට යනවා වැඩියි කියලා අර එක්කෙනෙක් අල්ලගෙන ගගහා ගගහා යනවා. පුද්ගලයෝ වෙන් කර කර පුද්ගලයන්ගේ දුර්ගුණත් එක්ක පුද්ගලයන්ට ගහන්නේ ඒවා ඔක්කොම තියෙන්නෙ රාගය දුරු නොකරපු නිසා. ඒ වගේම යම්කිසි බයක් නිසා. ඉතින් ඒ නිසා බුදුවරු තුළ ඒක නෑ. බුදුරජාණන් වහන්සේ එහෙම බුදුමුවින්ම දේශනා කලා රාගය ක්ෂය වීම නිසා, වීතරාගී නිසා මම කාමයෙන් වැළකී සිටිනවා කියලා. බුදුරජාණන් වහන්සේ බුදු මුවින්ම වදාරළා තියෙනවා මම විශාරදව, බය රහිතව ඕනෑම තැනකට වඩිනවා කියලා. ඒ නිසා කවුරුහරි ඇහුවත් අපිට ඒ විදියට උත්තර දෙන්න පුලුවන්. ඉතින් පින්වත් මහණෙනි, ඔය කාරණය ගැන තථාගතයන් වහන්සේගෙන්ම තවදුරටත් විමසා සිටින්න ඕන. ඔන්න දැන් මෙතෙක් වෙනකල් දැන් මෙයා විමසුවානෙ. ඒ කියන්නෙ ඔන්න දැන් භික්ෂුවක් හිටියා, ඒ භික්ෂුවට අනිත් අයගේ හිත දකින්න බෑ, බුදුරජාණන් වහන්සේගේ හිත දකින්න බෑ. එතකොට මෙයාට උවමනාවක් වුනා - හැබැයි මෙයාට හොඳට නුවණින් විමසන්න පුලුවන්, යෝනිසොමනසිකාරය තියෙනවා. මෙයා බුදු කෙනෙක් ඇත්තටම සම්මා සම්බුදු කෙනෙක්ද නැද්ද කියලා විමසන්න ඕන. එයා බලන්න ඕන, ඇහින් බලද්දි කණෙන් අහද්දි ඒ බුදුරජාණන් වහන්සේ තුළ වැරදි අඩුපාඩු දෝෂ තියෙනවාද කියලා. එතකොට දැන් මෙතෙක් කාලයක් බුදුරජාණන් වහන්සේ කියන්නෙ කවුද කියලා ඒ සම්බුද්ධත්ව ජීවිතය ඔබ හමුවට අපි ගෙනාවනෙ, ධර්මය තුළින්. දැන් හොඳට බලන්න. දැන් හොඳට අහන්න. බලන්න බුදුරජාණන් වහන්සේ තුළ කෙළෙස් තියෙනවාද කියලා. කෙලෙස් නැත. කාලෙන් කාලෙට ඇවිස්සෙන කෙළෙස් තියෙනවාද. එහෙම එකකුත් නැත. පිරිසිදු බව තියෙනවාද. සෑම බණ පදයකම බුදු කෙනෙකුගේ පිරිසිදුකමමයි එන්නෙ. දැන් බලන්න මේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ

නමක් මම ගැන මෙහෙම විමසන්න, මම ගැන හොයන්න ඕන විදියකට කියලා මේ විදියකට කියන වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් ලෝකයේ සිටිනවාද, හොඳට බලන්න. මේ විදියට තමන් ගැන විමසලා, විමසන්න කියලා ශ්‍රාවකයන්ට කියන වෙනත් ශාස්තෘන් වහන්සේ නමක් ඉන්නවාද. කිසිම ආගමක මේ වගේ ඒ ආගමේ නායකයන් ගැන මේ විදියට විමසන්න අවසර දීලා තියෙනවාද. අවසර නැත. මොකක්ද කියන්නෙ, ඒකම දරාගන්න ඕන. වැඩිදුර හෙව්වොත් එයා එතනින් ඉවරයි. මෙයා ලොකුවට ඒ ආගමට අභියෝග කරපු කෙනෙක් බවට පත්වෙනවා. බුද්ධ ශාසනේ නැහැ. බලන්න කිව්වා ඇහෙන්, හොඳට කණෙන් අහන්න කිව්වා. කෙලෙස් තියෙනවාද, කාලෙන් කාලෙට ඇවිස්සෙන ඒවා තියෙනවාද. තමන්ගේ ශාස්තෘන් වහන්සේගේ පිරිසිදුකම කොහොමද කෙලෙස් නැති බවින් හිත පිරිසිදු වෙලාද තියෙන්නෙ කියලා. ඊටපස්සෙ හොඳට බලන්න කිව්වා, ඒ ශාස්තෘන් වහන්සේ තුළ ලාභ සත්කාර කීර්ති ප්‍රශංසා, ඒ කියන්නෙ කීර්තිය ප්‍රශංසාව පැතිරෙනකල් තියෙනවානෙ සමහර අයගෙ කෙලෙස් හටගන් නෑ, කීර්තිය ප්‍රශංසාව පැතිරුනාට පස්සෙයි කෙලෙස් හටගන්නෙ. බලන්න කිව්වා බුදු කෙනෙක් ප්‍රසිද්ධියට පත්වෙලා ඉන්නවා, කීර්තියට පත්වෙලා ඉන්නවා, දැන් කෙලෙස් තියෙනවාද කියලා බලන්න කිව්වා. බය නැතිව වීතරාගීව, කාමය දුරු කරපු හිතෙන් ඉන්නවාද ඒක බලන්න කිව්වා. මෙහෙම විමසා විමසා බලනකොට බලලා බුදුරජාණන් වහන්සේ ඇහුවා බුදුරජාණන් වහන්සේගෙනුත් අහන්න කිව්වා. ඒ කියන්නෙ හොඳින් ඇහෙන් බලද්දි, හොඳින් කණෙන් අහද්දි හොයාගන්න පුලුවන් කෙලෙස් තථාගතයන් වහන්සේ තුළ තියෙනවාද නැද්ද කියලා. එතකොට බුදුරජාණන් වහන්සේ ඒ අහන කෙනාට කියනවා ඇහෙන් බලද්දි, කණෙන් අහද්දි බුදු කෙනෙක්ගේ නම් වරදක් දෝෂයක් කෙලේශයක් දකින්න ලැබෙන් නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගෙන්ම අහන්න කිව්වා ඇහෙන් බලද්දි, කණෙන් අහද්දි තථාගතයන් වහන්සේ තුළ කලින් කලට හටගන්නා කෙලෙස් තියෙනවාද නැද්ද කියලා. එතකොට බුදුරජාණන් වහන්සේ තුළ කලින් කලට හටගන්නා වූ කෙලෙසුත් දකින්න නැත කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේගෙන්ම අහන්න - දැන් ඔන්න ඉස්සෙල්ලා තමන් විමසනවා. පස්සෙ බුදුරජාණන් වහන්සේගෙනුත් අහනවා. ඊටපස්සෙ ඇසින් හොඳට බලද්දි කණින් හොඳට අහද්දි දැන් ඔන්න දැන් - මට මතකයි එක ආරණ්‍යයක පොඩි හාමුදුරුනමක් එක්ක කතා කරද්දි කිව්වා ඒ ආරණ්‍යයේ එක හාමුදුරු නමක් උදේ ඉඳලා හැන්දෑ වෙනකල් දානෙ වෙලාවට හැර හරියට

සක්මන් මලුවේ සක්මන් කර කර ඉන්නවාලු ශාන්තව. මේ විදියට සක්මන් කර කර ඉන්නකොට පොඩි හාමුදුරුවෝ ඉතින් ඒක දැකලා හරීයට සතුටුයිලු. මොකද පොඩි හාමුදුරුවන්ට භාවනාව වැඩෙන් නෑ. ඉතින් පොඩි හාමුදුරුවෝ උදේ බුද්ධ වන්දනාවට ගිහිල්ලත් පැතුවලු අර සක්මන් කරන හාමුදුරුවෝ වගේ දවසම ධර්මය සිහි කර කර ඉන්න හාමුදුරු නමක් වේවා මම. හවහටත් හාමුදුරුවෝ බුද්ධ වන්දනාව කරලා පැතුවලු අනේ අර සක්මන් කර කර ධර්මය සිහි කර කර ඉන්න හාමුදුරු නමක් වේවා මම කියලා දැන් ඔන්න පැතුවා. දැන් ඒ පොඩි හාමුදුරුවෝ මාත් එක්ක කිව්වෙ. ඊටපස්සෙ ඔහොම ටික දවසක් ඉඳලා මෙයාට නිකමට ගිහිල්ලා අර හාමුදුරුවන්ගෙන් ඇහුවා අනේ හාමුදුරුවනේ ඔබ වහන්සේ හරි ශාන්තයි. ඔබ වහන්සේ දානෙ වෙලාව හැරුනම සක්මනේමයි ඉන්නෙ. මං ආසයි ඔබවහන්සේ වගේ කෙනෙක් වෙන්න කියලා. ඊටපස්සෙ ඒ හාමුදුරුවෝ කියලා පිස්සුද ඕයි, මං මේ දවස් ගාණක් සක්මන් කර කර කල්පනා කරන්නෙ සිවුරු ඇරලා යන්නෙ කොහොමද කියලා. එතකොට දැන් අර පොඩි හාමුදුරුවෝ හිතුවෙ කොහොමද, වෙලා තියෙන්නෙ කොහොමද. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා තමන්ගේ නුවණින් කල්පනා කර කර බලන්න කිව්වා බුදු කෙනෙක්ගේ ගුණ. හැබැයි බුදුරජාණන් වහන්සේගෙනුත් ගිහිල්ලා අහන්න කිව්වා ඔබ වහන්සේට ඇත්තටම මේවා තියෙනවාද කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඇහෙන් බලද්දියි, කණෙන් අහද්දියි බුදු කෙනෙක්ගේ දොස් දකින්න නෑ. ඇත්තටම නෑ ඒ වගේ දෙයක්. කලින් කලට හටගන්න කෙලෙසුත් නෑ. ඊටපස්සෙ පිරිසිදු දේවල්, පිරිසිදු ගුණධර්ම බුදු කෙනෙක් තුළ තියෙනවාද නැද්ද කියලා, එතකොට ඇසින් හොඳට දකිනවිට, කණින් හොඳට අසනවිට සොයාගන්න පුලුවන් ඉතා පිරිසිදු දේවල් බුදුරජාණන් වහන්සේ තුළ තියෙනවා, ඒ පිරිසිදු මාර්ගයෙන් යුක්තයි, ඒ පිරිසිදු මාර්ගය අරමුණු කරගෙන ඉන්නෙ. නමුත් පිරිසිදුකම පිළිබඳව තමුන්ට අමුතු ආශාවක් නෑ කියලා බුදුරජාණන් වහන්සේම දේශනා කරනවා. දැන් සාමාන්‍යයෙන් පින්වත්නි තමන්ගේ පිරිසිදු ගුණයක් තිබ්බොත් තමන් ඒක ග්‍රහණය කරගන්නවානෙ. තමන් ඒක ග්‍රහණය කරගන්නවා, ආසාවේ බැසගන්නවා. දැන් අපිට මුණගැහිලා තියෙනවා සමහර බඹසර රකින අය, ඒ බඹසර ගැන, තමන් බඹසර රකිනවා, ඊටපස්සෙ අන් අය සැක කරනවා. මෙයා මගේ බඹසර කඩයි ද. මෙයා නිසා මගේ බඹසරට හානියක් වෙයිද. එතකොට තමන්ගේ බඹසරටත් ආසා කරනවා, ඒ වගේම අන් අයත් සැක කරනවා. තමන්ගේ ජීවිතේ යම් පිරිසිදු බවක් තියෙනවානෙ,

බ්‍රහ්මචාරී බවක්. නමුත් ඒක මුල් කරගෙන ග්‍රහණය කරගෙන ඉන්නෙ. ඒ තුළින් කෙලෙස් උපදිනවා. බුදුරජාණන් වහන්සේගේ ජීවිතය තුළ උතුම් පාරිශුද්ධ බව තිබෙනවා. නමුත් බුදුරජාණන් වහන්සේගේ ජීවිතය තුළ ඒ පිරිසිදු කම ගැන අමුතු ආසාවක් ඇල්මක් නෑ. ඊටපස්සෙ පින්වත් මහණෙනි, මේ විදියට කතා බස් කරන ශාස්තෘන් වහන්සේ නමක් ළඟට ශ්‍රාවකයෙක් බණ අහන්න යන එක සුදුසුයි. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා. මේ වගේ බුදු කෙනෙක් ළඟ බණ අහන්න යන එක සුදුසුයි. එතකොට ශාස්තෘන් වහන්සේ තව තවත් උසස් අයුරින් රසවත් විදියට දහම් දෙසනවා, පින් පව් ගැන ඉස්මතු කොට පෙන්වාදනවා. එතකොට පින ගැන, පව ගැන හොඳට විස්තර කර කර ධර්මය දේශනා කරනවා. පින්වත් මහණෙනි, ශාස්තෘන් වහන්සේ භික්ෂුවට ඒ විදියට උසස් අයුරින් රසවත් රසවත් විදියට පින්, පව් ගැන විස්තර කරමින් දහම් දෙසනකොට ඒ භික්ෂුවත් ඒ ධර්මය නුවණින් විමසනකොට අවබෝධ කරනවා. එතකොට ඒ ධර්මය තුළ ඇති ඇතැම් කරුණු ඔහුට හොඳට අවබෝධ වෙනවා. එතකොට ඔන්න දැන් හොඳට නුවණින් විමසපු කෙනෙකුට බුදුරජාණන් වහන්සේ කියන්නෙ ශ්‍රේෂ්ට කෙනෙක්, පිරිසිදු කෙනෙක් කියලා තේරුණානෙ. ඒ වගේ කෙනෙක් ළඟට යනවා. දැන් ඔබ මේ බුදුරජාණන් වහන්සේගේ ශාසනය තුළට පැමිණිලා සරණ තුළට පැමිණිලානෙ මේ ධර්මය අහන්නෙ. පින් පව් ගැන, කුසල් අකුසල් ගැන මෙහෙම අහනකොට රසවත් රසවත් ආකාරයෙන් අහනකොට එයා තුළම බුදුරජාණන් වහන්සේ ගැන පැහැදීමක් ඇතිවෙනවා සම්මා සම්බුද්ධො භගවා, භාග්‍යවතුන් වහන්සේ සම්මා සම්බුද්ධයි කියලා. ශ්‍රී සද්ධර්මය භාග්‍යවතුන් වහන්සේ මනාව දේශනා කරපු ඒ ධර්මය ස්වාක්ඛාතයි කියලා. ශ්‍රාවක සඟරුවන සුපටිපන්නයි කියලා. අර ධම්මචේතිය සූත්‍රයේ තිබ්බෙ. ඒ විදියට සරණ යනවා. භාග්‍යවතුන් වහන්සේ සම්මා සම්බුද්ධයි, ධර්මය ස්වාක්ඛාතයි, සංඝයා සුපටිපන්නයි කියලා හොඳ පැහැදීමක් හිතට ඇතිවෙනවා. ඇතිවෙන්නෙ කොහොමද, බුදුරජාණන් වහන්සේ ශ්‍රේෂ්ටයි කියලා දැනගෙන, ඒ බුදුරජාණන් වහන්සේ කරා ගිහිල්ලා පින් පව් ගැන බණ අහනකොට හිතේ පැහැදීමක් ඇතිවෙනවා බුදුරජාණන් වහන්සේ ශ්‍රේෂ්ටයි, ධර්මය ශ්‍රේෂ්ටයි, සංඝයා ශ්‍රේෂ්ටයි. බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි, ධර්මය ස්වාක්ඛාතයි, සංඝයා සුපටිපන්නයි කියලා. එතකොට එහෙම පැහැදීමක් ඇතිවෙනකොට අනිත් උදවිය අහන්න පුලුවන් ඔහේ දැන් බුදුරජාණන් වහන්සේ සරණ ගියා, ධර්මය සරණ ගියා, සංඝරත්නය සරණ ගියා. එතකොට කොහොමද එහෙම සරණ යන්නෙ. කොහොමද

කියන්නෙ බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි, ධර්මය ස්වාක්ඛාතයි, සංඝයා සුපටිපන්නයි කියලා. එහෙම අහනකොට උත්තර දෙන්න ඕන මෙහෙම. ඒ තමයි ආයුෂ්මතුනි, භාග්‍යවතුන් වහන්සේ ළඟට මම බණ අහන්න ගියා. මට භාග්‍යවතුන් වහන්සේ දහම් දෙසුවා. උසස් උසස් විදියට, රසවත් රසවත් විදියට පින් පව් විස්තර කරලා දේශනා කලා. ඉතින් ප්‍රිය ආයුෂ්මතුනි භාග්‍යවතුන් වහන්සේ උසස් උසස් විදියට, රසවත් රසවත් විදියට පින් පව් විස්තර කරමින් දහම් දෙසුවේ යම් ආකාරයකින්ද ඒ විදියට මම ඒ ධර්මය තේරුම් ගන්නකොට ඒ ධර්මයේ ඇතැම් කරුණු මට අවබෝධ වුනා. මේ බණක් කියනකොට පින්වතුනි ඔක්කෝම අවබෝධ වෙනවා කියලා එකක් නෑ. ඔක්කොම වැටහෙනවා තේරෙනවා කියලා එකක් නෑ. ඒකෙ සමහර ඒවා තේරෙනවා. දැන් මෙයා කියනවා මේ බණ කියාගෙන යනකොට මේ බණ අහනකොට මට සමහර ඒවා තේරෙන්න ගත්තා. එතකොට මට ඇතිවුනා එහෙම තේරෙනකොට ඇතැම් කරුණු තේරුම් ගන්නකොට ශාස්තෘන් වහන්සේ නම් සම්මා සම්බුද්ධයි, ධර්මය ස්වාක්ඛාතයි, සංඝයා සුපටිපන්නයි කියලා මට පැහැදීමක් ඇතිවුනා. එහෙනම් මෙයාට පැහැදීම ඇතිවුනේ ධර්මය අහලාමයි. පින්වත් මහණෙනි, යම්කිසි කෙනෙකුට ඔය විදියට දැන් මේ විස්තර කරපු අදහස් වලින් වචන වලින් තථාගතයන් වහන්සේ කෙරෙහි ශ්‍රද්ධාවක් පිහිටියා නම් ඒ ශ්‍රද්ධාව මුල් බැසගෙන පිහිටියා නම් පින්වත් මහණෙනි ආන්න ඒ ශ්‍රද්ධාවට තමයි කියන්නෙ ආකාරවතී ශ්‍රද්ධාව කියලා. නුවණින් විමසපු කෙනෙක් බුදු කෙනෙක් ශ්‍රේෂ්ටයි කියලා තේරුම් අරගෙන, ඒ බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහලා ධර්මයේ තියෙන කරුණු තමන්ට වැටහෙනකොට බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි, ධර්මය ස්වාක්ඛාතයි, සංඝයා සුපටිපන්නයි කියලා ඇතිවෙනවාද පැහැදීමක් ධර්මය ශ්‍රවණය කිරීම තුළින්, ධර්මය ශ්‍රවණය කරපු කරුණු අවබෝධය තුළින් ඇතිවෙනවාද පැහැදීමක් ඒක තමයි ආකාරවතී ශ්‍රද්ධාව කියන්නෙ. එහෙනම් බණ අහන්නේ නැතිව ආකාරවතී ශ්‍රද්ධාවක් උපදින්නේ නැත. ධර්මය අහන්නේ නැතිව ආකාරවතී ශ්‍රද්ධාවතක් උපදින්නේ නැත. බුදු කෙනෙක්ගේ පරම පිවිතුරු ධර්මය අහන්නැතිව කෙනෙකුට ශ්‍රද්ධාවක් තියෙනවා නම් ඒ ශ්‍රද්ධාවට කියන්නෙ අමූලිකා ශ්‍රද්ධා. ධර්මය අහලා අර්ථ තේරෙන් නැතිව පැහැදීමක් තියෙනවා නම් ඒකත් අමූලිකා ශ්‍රද්ධා. ධර්මය අහලා ඒකෙ යම් යම් කාරණා වැටහෙන එක තුළින් තුණුරුවන්ට පහදිනවාද ඒක ආකාරවතී ශ්‍රද්ධා. ඒ ශ්‍රද්ධාව මුල් කරගතතු දැඩි එකක්. මේ ලෝකෙ ශ්‍රමණයෙකුට හෝ බ්‍රාහ්මණයෙකුට හෝ

දෙවියෙකුට හෝ මාරයෙකුට හෝ බ්‍රහ්මයෙකුට හෝ කිසිවෙකුට ඔහු ඒ ශ්‍රද්ධාවෙන් බැහැර කරන්න බෑ. ඒ ශ්‍රද්ධාවෙන් ඔහුව බැහැර කරන්න බෑ. පින්වත් මහණෙනි, තථාගතයන් වහන්සේ ගැන ධර්මයට අනුව පරීක්ෂා කර බලන්නේ නම් ඔය විදියටයි ධර්මයට අනුව පරීක්ෂා කර බලද්දි තථාගතයන් වහන්සේ ගැන තේරුම් ගන්න තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහලා සංඝයා එදා ගොඩාක් සතුටට පත්වුනා. දැන් තේරුම් ගන්න. බුදු කෙනෙක්ගේ ධර්මය තුළින් ශ්‍රද්ධාවට පත්වෙන හැටි. ඒ නිසා මේ ධර්ම දේශනා දැන් හැත්තෑ ගණනාවක්, සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ජීවිතය හොඳට ශ්‍රද්ධාවෙන් විමසා විමසා ධර්මය අහනකොට සිත කය පිනා ගිහිල්ලා, ඒක කයට පවා දැනෙනවා. සිතට දැනෙනවා, දහම් අර්ථ වැටහෙන්න ගන්නවා. ඒ තුළින් උපදිනවා නම් යම් ශ්‍රද්ධාවක්. ආන්න ඒක ආකාරවතී ශ්‍රද්ධාවට කිට්ටුයි. ධර්මය අහන්නැතිව ඇතිවෙන පැහැදීම ඔක්කොම අමූලිකා ශ්‍රද්ධාවට වැටෙන්නෙ. මේ සූත්‍ර දේශනාවට අනුව, ඒ නිසා අපිටත් ආකාරවතී ශ්‍රද්ධාවෙම පිහිටාවා, දිවි තිබෙන තුරු නිවන් දකිනතුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙනතුරු නිවන් දකිනතුරු ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. මේ උතුම් තිසරණය පිළිබඳව ධර්ම ශ්‍රවණය තුළින්, දහම් කරුණු වැටහීම තුළින් මේ යන තිසරණය ආකාරවතී ශ්‍රද්ධාව ඔබව නිවනට පමුණුවත්වා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ කොළඹ නාරාහේන්පිට පදිංචි පින්වත් ශීලා කුලසිංහ මැණියන්, තිලක් පුතණුවන්, ප්‍රසන්න පුතණුවන්, ලලිත් පුතණුවන්, අනෝමා දියණිය සහ එම පවුලේ සියලුම දෙනා එකතුපහදු වෙලා. ඉතින් රැස් කරගන්නට යෙදුනා වූ සියලු පින්, පින් කැමැති සියලු දෙවියෝ අනුමෝදන් වී මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. මියපරලොව ගිය ඊ.ජේ දසනායක පියාණන්ට, මල්ලිකා දසනායක මැණියන්ට සහ එඩ්වඩ් කුලසිංහ ස්වාමිපුරුෂයාට මේ පින් අනුමෝදන් වේවා. කවුරුත් නමින් මියපරලොව ගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා. ඒ වගේම ඇත්තටම අමූලිකා ශ්‍රද්ධාව කියලා එකක් තියෙනවාය, ආකාරවතී ශ්‍රද්ධාව කියලා එකක් තියෙනවාය කියලා මේ ශ්‍රද්ධාව අපිට විග්‍රහ කරලා බුද්ධ දේශනා ඇසුරෙන් ඇත්තටම අපිට නම් විස්තර ඇසුණේම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිසා. අද කාලෙ ඇත්තටම ආකාරවතී ශ්‍රද්ධාවෙ කවුරුහරි පිහිටනවා නම් ඒ සියල්ලටම මගපෑදුනේ ලොකු ස්වාමීන් වහන්සේ ධර්මය

කියපු නිසා. මොකද ධර්මයක් ශ්‍රවණය කරන්නැතිව ආකාරවතී ශ්‍රද්ධාවෙ පිහිටන්නේ නැත. ඒ නිසා පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ ලබත්වා. ඒ වගේම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර සංඝරත්නය, අනගාරිකා මෑණිවරුන්, පැවිදි අපේක්ෂක දූපුතුන් ගෞතම බුද්ධ ශාසනයේ ධර්මාවබෝධය ලබත්වා. ඒ වගේම දායකත්වය දැරූ පින්වතුන්ගේ පවුල් වල සිටින සියලු දෙනා ඒ කියන්නෙ නාරාහේන්පිට පදිංචි පින්වත් ශීලා කුලසිංහ මෑණියන්, තිලක් පුතා, ප්‍රසන්න පුතා, ලලිත් පුතා, අනෝමා දියණිය, ඒ පවුලේ සියලු දෙනා ඒ වගේම ඥාති හිතමිත්‍රාදීන් සියලු දෙනාට ගෞතම බුද්ධ ශාසනයේ මේ ධර්මය මනාව ශ්‍රවණය කරලා දහම් කරුණු වටහාගෙන ඒ තුළින් තුණුරුවන්ට පැහැදෙන ඒ උතුම් ආකාරවතී ශ්‍රද්ධාවේම පිහිටලා, ගෞතම බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ලබන්න ඒ පවුලේ සියලු දෙනාට වාසනාව ලැබේවා. ඔබ අප කාටත්, මව් දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන්ට, ලක්විරු ගුවන් විදුලියේ ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනියේ සියලු දෙනාට, ධර්මය ශ්‍රවණය කරන සියලු දෙනාට මේ උතුම් තිසරණය තුළ, උතුම් සම්බුදු සරණින් සැනසී, ගෞතම බුද්ධ ශාසනයේ පිහිට පිළිසරණ ලබාගන්න අද දවසේ රැස් කල පිනත් හේතු වාසනා වේවා කියලා සෙත් ප්‍රාර්ථනා කරනවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=cY-HnTktrTo&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=76

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදු සාදු සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ ඒ අපගේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් ගුණානුභාවයත් ඒ වගේම බුදුරජාණන් වහන්සේ නමකගේ ශ්‍රේෂ්ටත්වයත් ඒ වගේම ඒ උතුම් භාග්‍යවතුන් වහන්සේ සරණ යෑම, ධර්මය සරණ යෑම, සංඝරත්නය සරණ යෑම කොයිතරම් අපගේ ජීවිතයට මහෝපකාරයි ද කියන කාරණාව කතා කරමින් අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන අදත් අපි සිද්ධ කරනවා. ඉතාලියේ පදිංචි පින්වත් ඩී.ජී. ජයවතී පෙරේරා මහත්මිය තමයි අද දවසේ දායකත්වය දරන්නෙ, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා. ඉතින් එතුමිය බොහෝ පින් රැස් කරගන්නවා අද දවසේ මේ ධර්ම දානය සිද්ධ කරලා, බොහෝ දෙනාට හිතසුව පිණිස මේ ධර්මය අහන්න සැලැස්වීම තුළින්. අද දවසේත් අපි ඉතාමත් වටිනා කියන දහම් කාරණාවක් තමයි කතා කරන්නෙ. බුදුරජාණන් වහන්සේ නමකගේ ආනුභාවය තේරුම් ගැනීම පිණිස. පින්වතුනි මීට කලින් වැඩසටහනක කතා කලා වීමංසක සූත්‍රය. බුදුරජාණන් වහන්සේ වදාළා තමාව භාග්‍යවතුන් වහන්සේ ගැන නුවණින් විමසන භික්ෂුවක් නුවණින් විමසන්න කිව්වා. ඒ කියන්නෙ ඒ කෙනාට බුදුරජාණන් වහන්සේගේ හිත දකින්න ඥාණයක් නැතිව ඇති. නමුත් එයාට නුවණින් විමසීම තියෙනවා, යෝනිසොමනසිකාරය. ඒ නුවණින් විමසීම තුලින් දකින්න කිව්වා බුදුරජාණන් වහන්සේ තුළ කෙළෙස් තියෙනවාද කියලා ඇහෙන් බලලා, කණෙන් අහලා විමසන්න කිව්වා, ඔහුට දකින්න ලැබෙන් නෑ. කාලෙන් කාලෙට ඇවිස්සෙන කෙලෙස් තියෙනවාද කියලා බලන්න කිව්වා. ඒත් ඔහුට දකින්න ලැබෙන් නෑ. ඊටපස්සෙ වදාළා කෙනෙක් පිරිසිදු කරන පිරිසිදු ගුණධර්ම තියෙනවා, ඒවා භාග්‍යවතුන් වහන්සේ තුළ තියෙනවාද කියලා, නොඅඩුව තියෙනවා දකින්න ලැබෙනවා. ඒ වගේම සමහර අය පිරිසිදුව හිටියත් ලාභ සත්කාර කීර්ති ප්‍රශංසා ලැබෙනකල් විතරයි ඒ ගුණධර්ම. ලාභ සත්කාර කීර්ති ප්‍රශංසා නැතිවෙලා යනකොට ඔවුන් පිරිහීමට පත්වෙලා යනවා යසසින් කීර්තියෙන් ලාභ සත්කාරයෙන් බොහෝ සත්කාර සම්මාන ලැබුනු බුදුරජාණන් වහන්සේ තුළ එවැනි වූ පිරිහීමක් දකින්න ලැබෙයිද කියලා නුවණින් විමසලා බලන්න කියනවා. නුවණින් විමසලා බලනකොට ඔහුට එහෙම දකින්න ලැබෙන්නෑ. ඉතින් ඒ වාගේ සම්මා සම්බුදුවරයෙක් ළඟට ධර්මය අහන්න එන්න සුදුසුයි. ඒ

වාගේ සම්මා සම්බුදු කෙනෙක්ගෙන් ධර්මය අහන්න ඕන. ඉතින් බුදුරජාණන් වහන්සේ ළඟට පැමිණුනාට පස්සෙ අර නුවණින් විමසන කෙනා අහනවා බුදුරජාණන් වහන්සේගෙන් ශ්‍රී සද්ධර්මය, නැත්නම් පින් පව් ගැන, කුසල් අකුසල් ගැන අහලා ඔහු ඉතාමත් පහදිනවා. හිත පැහැදිලා ඒ ධර්මයෙන් ශක්ති පමණින් ඒ ධර්මයේ යම් යම් දේවල් අවබෝධ කරනවා. අවබෝධ කලාම, ඉතින් බුදු කෙනෙක් වදාළ ධර්මය අවබෝධ කලාම යම් යම් ධර්මයන්, හිතේ පැහැදීමක් ඇතිවෙනවා බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුදු කෙනෙක්. මේ ධර්මය ස්වාක්ඛාතයි, සංඝයා සුපටිපන්නයි කියලා. ඉතින් කවුරුහරි ඇහුවොත් එහෙම කොහොමද නුඹට මේ වගේ පැහැදීමක් ඇතිවුනේ කියලා, කියන්න සුදුසුයි මං මේ භාග්‍යවතුන් වහන්සේගේ ධර්මය අහනකොට හීන - ප්‍රණීත, පින් - පව් ධර්මයන් ගැන අහනකොට මගේ හිත පැහැදුනා. පැහැදිලා මටත් එක එක යම් යම් ධර්ම කොටස් තේරෙන්න ගත්තා. ඒ ධර්මය තේරෙනකොට, අවබෝධ වෙනකොට මට හැඟීමක් ඇතිවුනා, බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධයි, ධර්මය ස්වාක්ඛාතයි, සංඝයා සුපටිපන්නයි කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඕන්න ඔය විදියට, ධර්මය අහද්දි ඔය විදියට ඔයාකාරයෙන් ඔය අර්ථයෙන් පැහැදීමක් ඇතිවෙනවා නම් අන්න ඒ පැහැදීමට තමයි ආකාරවතී ශ්‍රද්ධාව කියලා කියන්නෙ. ඒක මුල් බැසගත්තු එකක් සොලවන්න බැරි දෙයක්. ඉතින් ඔය වාගේ විස්තරයක් කරලා මුලින් බුදුරජාණන් වහන්සේ වදාළානෙ තමාව විමසන්න කියලා. විමසලා, ගිහිල්ලත් අහන්න කිව්වා බුදුරජාණන් වහන්සේගෙන් ඔබවහන්සේ තුළ කෙලෙස් තියෙනවාද, කාලෙන් කාලෙට ඇවිස්සෙන කෙලෙස් තියෙනවාද කියලා. දැන් ඔය ගැන කතා කරනකොට මට සූත්‍ර දේශනාවක් මතක් වුනා, මජ්ඣිම නිකායේ දෙවෙනි පොත් වහන්සේගේ බ්‍රාහ්මණ වර්ගයේ තියෙන, බ්‍රහ්මායු සූත්‍රය. මේ බ්‍රහ්මායු සූත්‍රයේ තියෙන්නෙ බුදුරජාණන් වහන්සේගේ හෙවනැල්ල වගේ මාස හතක් එක දිගට, එකදිගට නොකඩවා මාස හතක් බුදුරජාණන් වහන්සේ ළඟින් සෙළවෙන්නැතිව ඉඳලා බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ ගුණදොස්, නැත්නම් ගුණධර්ම අඩුපාඩු හොයන්න ආපු මානවකයෙක්ගේ විස්තර. ඔහුව එතෙන්ට යොමු කිරීමේ විස්තර. හරී ලස්සන දේශනාවක් මේ. ඒ දවස්වල බුදුරජාණන් වහන්සේ වැඩ හිටියේ වේදේහ ජනපදයේ පන්සීයක් පමණ රහත් වූ භික්ෂු සංඝයා පිරිවරාගෙන චාරිකාවේ වඩිමින්. ඒ කාලයේ බ්‍රහ්මායු කියන බ්‍රාහ්මණයාත් මිථිලා නගරයේ වාසය කලා. ඔහු දිරාපත් වූ වයෝවෘද්ධ වූ මහළු වූ වයසේ කෙළවරට පත්වෙලා හිටියේ. උපතින් අවුරුදු

එකසිය විස්සයි බ්‍රහ්මායු බ්‍රාහ්මණයාට. ඔහු ත්‍රිවේදයේ පාරප්‍රාප්ත වෙලා නිගණ්ඩු කේටුභ අක්ෂර ප්‍රභේද හා ඉතිහාස පස්වෙනි කොට ඇති පද ව්‍යාකරණ ආදී ලෝකායතන මහා පුරුෂ ලක්ෂණ ශාස්ත්‍රය පිළිබඳ හසල නුවණක් ඇති මහා බ්‍රාහ්මණයක්. බොහෝ බ්‍රාහ්මණයන්ට ශ්‍රේෂ්ටව හිටියා. අවුරුදු එකසිය විස්සයිනෙ වයස. වයෝවෘද්ධ බවත් එක්කත් තියෙනවානෙ. ඊටපස්සෙ ඔහුට අහන්න ලැබුනා ශාක්‍ය කුලයෙන් පැවිදි වූ ශාක්‍යපුත්‍ර ගෞතම නම් වූ ශ්‍රමණයන් වහන්සේ නමක් පන්සීයක් සංඝයා පිරිවරාගෙන වේදේහ ජනපදයේ චාරිකාවේ යෙදෙනවා කියලා. කීර්ති ඝෝෂාවක් පැතිරිලා ගියා ඒ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ අරහං වන සේක. සම්මා සම්බුද්ධ වන සේක. විජ්ජාචරණ සම්පන්න වන සේක. සුගත වන සේක. ලෝකවිදූ වන සේක. අනුත්තරෝ පුරිසදම්ම සාරථී වන සේක. සත්ථා දෙව මනුස්සානං වන සේක. බුද්ධ වන සේක. භගවා වන සේක. ඒ වගේම දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ දෙව් මිනිස් ප්‍රජාව තුළ ස්වකීය විශිෂ්ට ඥාණයෙන් අවබෝධ කරගත් ධර්මය දේශනා කරනවා මුල මැද අග කල්‍යාණ වූ අර්ථ සහිත පැහැදිලි ප්‍රකාශන මාධ්‍යයෙන් යුතු මුළුමණින්ම පිරිසිදු නිවන් මාර්ගය උන්වහන්සේ දේශනා කරනවා. ඒ වාගේ රහතන් වහන්සේලා දකින්න ලැබෙන එකත් කොයිතරම් හොඳද කියලා මිනිස්සු කතාබහ වෙනවා අහන්න ලැබුනා බ්‍රහ්මායු බ්‍රාහ්මණයාට. එතකොට බ්‍රහ්මායු බ්‍රාහ්මණයාට හිතේ උපන්නා මේ ඇත්තම බුදු කෙනෙක්ද නැද්ද, මොකද ඒ කාලෙ එක එක්කෙනත් තමන් බුදු වෙලා තමන් බුදු වෙලා කියලා කියනවානෙ. දැන් අද කාලෙ ඔය මම රහත්, මම රහත් කිය කියා එක එක්කෙනා යනවා වගේ ඒ කාලෙත් මම බුදුවුනා, මම බුදුවුනා කියලා කිව්වා. මිනිස්සුන්ට සැක උපදිනවා. ඇත්ත බුදුරජාණන් වහන්සේ කවුද කියලා. ඊටපස්සෙ මේ බ්‍රහ්මායු බ්‍රාහ්මණයාටත් හිතුනා ඇත්තටම බුදු කෙනෙක්ද මේ. බ්‍රහ්මායු බ්‍රාහ්මණයාගේ උත්තර කියලා තරුණයෙක් ඉන්නවා ගෝලයෙක්. ඔහු ත්‍රිවේදය පාරප්‍රාප්ත වෙලා නිගණ්ඩු කේටුභ අක්ෂර ප්‍රභේද ඉතිහාස පස්වෙනි කොට පද ව්‍යාකරණ ආදී ලෝකායතන මහා පුරුෂ ලක්ෂණ ශාස්ත්‍රය මේ ආදී සියල්ල පරතෙරට පත්වෙලා බ්‍රහ්මායු බමුණාගේ ශ්‍රේෂ්ටතම ගෝලයෙක් විදියට, දක්ෂතම ශිෂ්‍යයෙක් විදියට හිටියෙ. බ්‍රහ්මායු බ්‍රාහ්මණයා තමන්ගේ උත්තර කියන පුතාට කතා කරලා කියනවා, ශිෂ්‍යයාට, පුත්‍රය, ශාක්‍ය කුලයෙන් පැවිදි වූ භවත් ගෞතමයන් වහන්සේ පිරිස් පිරිවරාගෙන පන්සීයක් සඞ පිරිස විදේහ ජනපදයට වැඩලා. ඔය පිරිස කතාවෙන්නෙ නම් උන්වහන්සේ අරහං, නිකෙලෙස් කෙනෙක් කියලා. තමන්ම ධර්මය අවබෝධ කරගත්තු

කෙනෙක් කියලා, සම්මා සම්බුද්ධයි. ඒ වගේම අවබෝධයට අනුවම ජීවිතේ ගත කරනවා කියලා, විජ්ජාචරණ සම්පන්නයි. සුන්දර නිවන් මාර්ගයේ ගමන් කලා කියනවා, සුගතයි. සියලු ලෝකයන් අවබෝධ කලා කියලා, ලෝකවිදූ. ඒ වගේම අනුත්තර පුරිසදම්ම සාරථී, ඒ කියන්නෙ අනුත්තර පුරිසදම්ම සාරථී කියන්නෙ පුරුෂ දමිත, අන් අය  පින් ඇති දෙව් මිනිසුන් දමනය කරනවා. සත්තා දෙව මනුස්සානං, දෙව් මිනිස්සුන්ට ශාස්තෘන් වහන්සේ. තමන් අවබෝධ කරගත්තු ධර්මය අන් අයට දේශනා කරනවා, බුද්ධ. ඒ වගේම උන්වහන්සේ මහා භාග්‍යවන්ත කෙනෙක්, භගවා. ඉතින් මේ විදියට කීර්ති ඝෝෂාවක් පැතිරෙනවා, මුල මැද අග පිරිසිදු ධර්මය දේශනා කරනවා, අර්ථ සහිත පැහැදිලි ප්‍රකාශන සහිත සුන්දර ඒ විමුක්ති මාර්ගය දේශනා කරනවා, ඒ වාගේ උත්තමයො දකින්න ලැබෙන එකත් මහා යහපතක් කියලා මිනිස්සු කතා වෙනවා. පුතා උත්තර උඹ මෙහෙම කරන්න ඕන. ඒ තමයි උඹ දැන් ගිහිල්ලා ඔය ශ්‍රමණ භවත් ගෞතමයන් බැහැදකින්න ඕන. බැහැදැකලා ඔය කියන විදියේ ගුණධර්ම උන්වහන්සේට තියෙනවාද නැද්ද කියලා උඹ බලාගෙන වරෙන්. ඊටපස්සෙ උත්තර මානවකයා කියනවා අනේ මං ඔය කියන කෙනාව සම්බුදු වෙලාද නැද්ද කියලා ඔය තියන ගුණධර්ම තියෙනවාද නැද්ද කියලා කොහොමෙයි මං හොයන්නෙ. ඊටපස්සෙ කොහොමද මං හොයන්නෙ කියලා අහනකොට බ්‍රහ්මායු බ්‍රාහ්මණයා කියනවා, ඇයි පුතේ, ඇයි උත්තර අපගේ ශාස්ත්‍රය තුළ තියෙනවානෙ මහා පුරුෂ ලක්ෂණ. ඒ නිසා මහා පුරුෂ ලක්ෂණ තිස් දෙක උන්වහන්සේ තුළ තියෙනවාද කියලා බලාපං. ඒ වාගේ මහා පුරුෂ ලක්ෂණ තිස් දෙකක් තියෙනවා නම් එක්කො සක්විති රජ වෙනවා, එහෙම නැත්නම් සම්මා සම්බුදු වෙනවා. ඉතින් මං උඹට ශාස්ත්‍රය දීලා තියෙනවා. මම තමයි නුඹට ශාස්ත්‍රය ඉගැන්නුව, ශිල්ප ඉගැන්නුව කෙනා. උඹ මගෙන් ඒ ශිල්පය ඉගෙන ගත්ත කෙනා. එසේය භවත කියලා උත්තර මානවකයා භාග්‍යවතුන් වහන්සේ සොයාගෙන විදේහ ජනපදයට ගියා. ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේ සමඟ සතුටුවෙලා කතාබහ කරලා පැත්තකින් වාඩි වුනා. වාඩිවෙලා ඉතින් භාග්‍යවතුන් වහන්සේ සංඝයාට දහම් දෙසද්දි මෙයා හිමීට හිමීට දැන් විමසලා බැලුවා දෙතිස් මහා පුරුෂ ලක්ෂණ මේ ශරීරයේ තියෙනවාද කියලා බැලුවා. දෙතිස් මහා පුරුෂ ලක්ෂණ වලින් තිහක් හොඳටම දැක්කා. ලක්ෂණ දෙකක් දැක්කෙ නෑ, ඒ තමයි - දැන් එතකොට මෙයා හොඳට විමස විමසා බලනවා දැන් මෙයා වේදයේ පරතෙරට පත්වෙලානෙ. ඒ මහා පුරුෂ ලක්ෂණ ගැන ඉගෙන ගෙන. අද කාලෙනෙ මහා පුරුෂ ලක්ෂණ ගැන

මොකුත් දන්නැත්තෙ. ඒ කාලෙ ඒ බමුණො වේදය ඉගෙන ගන්නකොට අනිවාර්යයෙන් මහා පුරුෂ ලක්ෂණ තිස්දෙක ගැන ඉගෙන ගන්නවාමයි. ඒකෙන් දෙකක් දැක්කෙ නෑ, මොකක්ද ඒ? කෝසෝහිත වත්තගුය්හ හා පහූත ජිව්හා. කෝසෝහිත වත්තගුය්හ කියන්නෙ ඒ මහා පුරුෂයන් වහන්සේගේ පුරුෂ නිමිත්ත ශරීරයේ ශ්‍රේෂ්ට වෘෂභයෙක්ගේ නැත්නම් මංගල හස්ති රාජයෙක්ගේ වගේ ශරීරය ඇතුලට කිඳා බැහැලා තියෙන්නෙ. ඒ ශරීර කෘත්‍යය කරන අවස්ථාවේ තමයි මතුවෙන්නෙ. එතකොට ඒ කෝසෝහිත වත්තගුය්හත්, පහූත ජිව්හා - පුළුල් වූ දිවත් දුටුවෙ නෑ. දැන් සාමාන්‍යයෙන් භාග්‍යවතුන් වහන්සේ ධර්මය දේශනා කරනකොට භාග්‍යවතුන් වහන්සේගේ දන්ත ධාතූන් වහන්සේලා පේන්නෙ නෑ. භාග්‍යවතුන් වහන්සේගේ දිව අන් අයට පෙන්නෑ භාග්‍යවතුන් වහන්සේ කතා කලත්. එතකොට දත් පේන්නැතිව, දිව පේන්නැතිව ලක්ෂ සංඛ්‍යාත පිරිසකට භාග්‍යවතුන් වහන්සේ කෙළවරේ ඉන්න කෙනාටත් ඇහෙන්න කතා කලා කියලා යමක් ඇත්ද, එය ඒකාන්තයෙන් ආශ්චර්යයි, අද්භූතයි. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ දිවැසින් දැක්කා, මේ උත්තර මානවකයා මාගේ ශරීරය විමසා විමසා බලනවා, මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් ලක්ෂණ දෙකක් හැර ඉතුරු ඔක්කොම දැක්කා මෙයා. දුටුවේ නැත්තෙ කෝසෝහිත වත්තගුය්හත්, පහූත ජිව්හා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ කල්පනා කලා මං මෙයාට මේක පෙන්නුවොත් හොඳයි කියලා ඍද්ධියෙන් බුදුරජාණන් වහන්සේ තමන්ගේ කෙමියක, බැසගත් පියුම් කෙමියක් තුළ ඇති පුරුෂ නිමිත්ත ඡායාව වගේ පේන්න සැලැස්සුවා ඍද්ධියෙන්. ඒ වගේම දිව බුදුරජාණන් වහන්සේ දිව දිගු කොට දෙකන්සිළු මැනැවින් ස්පර්ශ කලා. කන්දෙක මේ දිවෙන් ස්පර්ශ කලා. ඒ වගේම දෙනැහැ සිදුර මැනැවින් ස්පර්ශ කලා. දිව එළියට අරන් මේ මුළු නළලම දිවෙන් වැහුවා. බුදුරජාණන් වහන්සේ ඍද්ධියෙන් මේක කලේ. දැන් මිලින්ද රජ්ජුරුවෝ අහනවානෙ නාගසේන මහරහතන් වහන්සේගෙන් ඇයි පුරුෂ නිමිත්ත පෙන්නුවෙ ඒක හොඳ නැනෙ මේ ලෝකෙ සාමාන්‍ය කෙනෙකුත් එයට ලැජ්ජා වෙනවානෙ කියලා. ඉතින් නාගසේන මහරහතන් වහන්සේ දේශනා කරනවා එහෙම පෙන්නුවා කියලා කියන්නෙ ඡායාවක් පෙන්නුවෙ. ඉතින් මිලින්ද රජ්ජුරුවෝ කියනවා ඡායාවක් දැක්කාත් ඉතින් දැක්කම තමයිනෙ කියලා. ඊටපස්සෙ කියනවා රජතුමනි භාග්‍යවතුන් වහන්සේ දකිනවා නම් තමන්ගේ හදවත දැක්කට පස්සෙ කෙනෙක් මාර්ගඵල ලබනවා ධර්මය අවබෝධ කරනවා කියලා පපුව පලලා හදවත එළියට ගෙනල්ලා පෙන්නයි කිව්වා අන්

අයගේ ධර්මාවබෝධය පිණිස. ඒ නිසා මේ උත්තර මානවකයා සේල බ්‍රාහ්මණයා ආදී අය බ්‍රහ්මායු බ්‍රාහ්මණයා ආදී අය බුදුරජාණන් වහන්සේගේ ඒ මහාපුරුෂ ලක්ෂණ දැක්කෙ නැත්නම් එතනින් එහාට එයාලගේ සැකය තියෙන්නෙ. ඒ සැකය දුරු කරලා ඒ ධර්ම මාවතට ගැනීම පිණිසම බුදුරජාණන් වහන්සේ ඍද්ධියෙන් පෙන්නුවා කියනවා ඡායා මාත්‍රයක්. ඊටපස්සෙ දැන් උත්තර මානවකයා මේ කාරණාව දැකලා අනේ ඒකාන්තයෙන් මහා පුරුෂ ලක්ෂණ තිස් දෙක තියෙනවා, ශ්‍රමණ ගෞතමයන් වහන්සේ සම්මා සම්බුදුවරයෙක්මයි, මම දැන් ඉදිරියට මේ ශ්‍රමණයන් වහන්සේගේ ඉරියව් පරීක්ෂා කරන්න ඕන, යන එන කතා බහ කරන හැටි. පිටුපසින්ම ඉන්න ඕන කියලා හිතුවා. ඉදලා උත්තර මානවකයා බුදුරජාණන් වහන්සේ අත් නොහැර හෙවණැල්ල මෙන් සත් මසක් භාග්‍යවතුන් වහන්සේගේ පිටිපස්සෙන් ලුහුබැන්දා. මාස හතක්. ඉතින් සත් මස් ඇවෑමෙන් උත්තර මානවකයා විදේහ මිථිලා නුවර බලා ආපහු චාරිකාවට ආවා. අනුපිළිවෙලින් චාරිකාවට පැමිණි උත්තර මානවකයා බ්‍රහ්මායු බ්‍රාහ්මණයා වෙත පැමිණුනා. පැමිණිලා වන්දනා කලා. වන්දනා කලාට පස්සෙ උත්තර මානවකයාගෙන් බ්‍රහ්මායු බ්‍රාහ්මණයා අහනවා පුත උත්තරයිනි, කිම ඒ භවත් ගෞතමයන් වහන්සේ උස්ව නැගී පැතිරී ඇති කීර්ති ඝෝෂාවට අනුකූල වූ ගුණයෙන් යුක්ත ද? එසේ නැතිව වෙනත් ස්වභාවයකින් යුක්ත ද? කිම ඒ භවත් ගෞතමයන් කෙබඳු අයුරු වේද? නැත්නම් අන් අයුරු වේද? කියනවා පුතා දැන් උඹ ගිහිල්ලා දැන් මාස හතකට වැඩියි. ඔය ශ්‍රමණ භවත් ගෞතමයන් ගැන ලෝකයේ පැතිරෙන ගුණ ඒ විදියටම තියෙනවාද නැද්ද කියලා උඹ මොනවද දැක්කෙ. ඉතින් දැන් මේ කාරණාව අනුව බලන්න, බුදුරජාණන් වහන්සේ ජීවමාන කාලෙත්, බුදුරජාණන් වහන්සේගේ කීර්ති ඝෝෂාව යද්දි බුදුරජාණන් වහන්සේ චෙක් කරන්න මේ කට්ටිය ආවා. අද කාලෙ යම්කිසි කෙනෙක්ගේ ගුණය කීර්තිය පැතිරිලා යනකොට අද කාලෙත් ඔහු කවුද කියලා ඔහුව පරීක්ෂා කිරීම පිණිස එක එක කටයුතු සිද්ධ වෙනවා, බුද්ධ කාලයේත් එසේ සිද්ධ වුනා නම්. ඉතින් ඒ නිසා මේ ලෝකයේ තියෙන ස්වභාවයන් අපි තේරුම් ගන්න ඕන. ඊටපස්සෙ ඒ භවත් ගෞතමයන් වහන්සේගේ යම් කීර්ති ඝෝෂාවක් උස්ව පැන නැගුණාද බ්‍රාහ්මණය, ඒක ඒ විදියම තමයි වෙන ආකාරයකින් නෙවෙයි. ඒ භාග්‍යවතුන් වහන්සේ ඊටත් එහා ගුණ තියෙනවා. ඔය මිනිස්සු කතා කරන්නෙ සුළු දෙයක්. එතනින් එහාටත් බුදුරජාණන් වහන්සේගේ ගුණ තියෙනවා. ඊටපස්සෙ කියනවා ඒ උත්තමයන් වහන්සේට දෙතිස් මහා පුරුෂ ලක්ෂණ තියෙනවා, ඒක

මම බැලුවා. ඒ ගෞතමයන් වහන්සේට මනාව පිහිටි පාද තියෙනවා, සුපිහිටි පාද. ඒක මහා පුරුෂ ලක්ෂණයක්, සුපතිට්ඨිත පාදෝ. ඊටපස්සෙ යටිපතුලේ දහසක් අර ඇති දහසක් නිම් වළලු ඇති නාභි මණ්ඩලය සහිත සර්වාකාරයෙන් පරිපූර්ණ වූ චක්‍ර සටහනක් තියෙනවා, චක්‍ර ලක්ෂණය තියෙනවා. යටිපතුලේ මැද කරත්ත රෝදයක වගේ දහසක් අර තියෙන, දහසක් නිම් වළලු තියෙන සොඳුරු චක්‍ර ලක්ෂණයක් තියෙනවා, කරත්ත රෝදයක් වගේ. ඊළඟට ආයතපන්හී, දික් විලුඹක් තියෙනවා. දීඝංගුලි, දිග ඇඟිලි තියෙනවා. ජාල හත්ථපාද තියෙනවා. අත පය දැලක් වගේ ඕන පැත්තකට නවන්න පුලුවන්. ඒ වගේම භාග්‍යවතුන් වහන්සේට තියෙනවා උස්සංඛ පාදෝ, උස්ව පිහිටි ගොප් පා ඇති බව. ඒ වගේම භාග්‍යවතුන් වහන්සේට තියෙනවා ඒණි මුවාගේ වගේ, ඒණිජංගා, කෙණ්ඩා තියෙනවා. ඒ වගේම ඒ භාග්‍යවතුන් වහන්සේට හිටගෙන නැවෙන්නැතිව දණහිස අල්ලන්න පුලුවන්. කෝසෝහිත වත්තගුය්හ තියෙනවා. රන්වන් පැහැයෙන් යුතු කාංචන වර්ණයෙන් යුතු හමක් තියෙනවා, රත්තරන් පාට හමක්. සුපමච්ඡවි, සුවණ්ණ වණ්ණෝ. ඉතාමත් සිනිඳු හමක් තියෙනවා, දූවිලි රැඳෙන් නෑ, ස්වභාවයෙන්ම සිනිඳුයි. දූවිලි ඇඟට වැටුනොත් එහෙම බිමට වැටෙනවා ඇඟේ රඳින් නෑ, එච්චර සිනිඳුයි හම. ඒ වගේම ගෞතමයන් වහන්සේගේ ශ්‍රී ශරීරයේ ඒකෙක ලෝමා උද්ධංග රූපා, එක එක ලොම් තියෙන්නෙ, උඩ පැත්තට හැරිලා, දකුණු පැත්තට කැරකිලා. ඒ භවත් ගෞතමයන් වහන්සේගේ ශ්‍රී ශරීරයේ උඩට හැරුණු ලෝමයන් නිල්වන් අඳුන්වන් දකුණු අතට හැරවී ගොස් තිබෙන රෝමයෝ තිබෙන්නෙ. ඒ කැරකිලා කැරකිලා ඒ රෝමයේ අග උඩු පැත්තට හැරිලා තියෙන්නෙ. ඒ භවත් ගෞතමයන් වහන්සේගේ කය ඍජුයි මහා බ්‍රහ්මයාගේ වගේ. ඒ භවත් ගෞතමයන් වහන්සේගේ ශරීරයේ ඉදිරි කොටස සිංහයෙකුගේ වගේ තේජෝ බලසම්පන්න ලීලාව පේනවා. ඒ භවත් ගෞතමයන් වහන්සේ මසින් පිරුණු වටකුරු පිටිකරක් තියෙනවා. දැන් අපි ගත්තොත් එහෙම අපගේ පිටේ මැද කාණුවක් වගේ තියෙනවානෙ, එහෙම ගතියක් නෑ, හොඳට පිරිලා පිරිපුන්ව තියෙනවා, බුදු කෙනෙක්ගේ පිටි කය. ඒක මහා පුරුෂ ලක්ෂණයක්. ඒ වගේම ගෞතමයන් වහන්සේගේ ශ්‍රී ශරීරය බඹයක් තියෙනවා, බඹය යම් තාක් ද ශරීරය ඒ තාක්, ශරීරය යම් තාක් ද බඹය ඒ තාක්. උසට සරිලන මහත, මහතට සරිලන උස තියෙනවා. නිග්‍රෝධ පරිමණ්ඩලය, නුග වෘක්ෂයක් වගේ පිරිපුන් වූ වටශරීරයක් තියෙනවා. ඒ වගේම උරහිස් මසින් පිරිලා තිබෙනවා. ඕනෑම දෙයක් මැනැවින් දිරවන රස නහර තිබෙනවා. ඒ වගේම සිංහයෙක්ගේ වගේ

ශක්තිමත් හනු තියෙනවා. දන්ත ධාතූන් වහන්සේලා හතළිස් නමක් වැඩ ඉන්නවා. උඩු ඇන්දේ දත් විස්සයි, යටි ඇන්දේත් දත් විස්සයි. ඒ භවත් ගෞතමයන් වහන්සේගේ දත් සමව පිහිටලා තියෙනවා, සමදන්තො. සවිවර දන්තො, දත් අතර හිඩැස් නෑ. ඒ භවත් ගෞතමයන් වහන්සේ ඉතා සුදු වූ දත් වලින් යුක්තයි, සුසුකදාඨෝ. ඒ වගේම පුළුල් දිවක් තියෙනවා, පහූත ජිව්හෝ. ඒ වගේම කුරවි කෙවිලියකගේ වගේ අති මිහිරි හඬක් තිබෙනවා, බ්‍රහ්මස්වරය. ඒ ගෞතමයන් වහන්සේගේ අභිනීල නෙත් යුගක් තියෙනවා. ඒ වගේම ඒ කියන්නෙ නිල්වන් නෙත් සඟල. භවත් ගෞතමයන් වහන්සේ උපන් ඇසිල්ලේ දිලිසෙන ඇස් ඇති රතු වහුපැටියෙක් වගේ විශාල ඇස් වලින් යුක්තයි. ඒ භවත් ගෞතමයන් වහන්සේගේ දෙබැම අතර මෘදු පුළුන් රොදක් බඳු ඌර්ණ රෝම ධාතුව තිබෙනවා. ඒ වගේම භවත් ගෞතමයන් වහන්සේගේ උස්ව පිහිටි කෙස් රොද ඇති උන්හිසසීසියෙන් යුක්තයි. මේ විදියට මහා පුරුෂ ලක්ෂණ තිස් දෙකින්ම යුක්තයි. දැන් උත්තර මානවකයා කියනවා බ්‍රහ්මායු බ්‍රාහ්මණයාට. ඊටපස්සෙ කියනවා භවත් ගෞතමයන් වහන්සේ පිටතට වඩින විට පළමුවෙන්ම පෙරට තබන්නේ දකුණු පාදයයි. බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ අතිශයින් විශේෂ කාරණාවක් තමයි ගන්ධ කුටියෙන් එළියට වඩිනකොට පන්සාලිස් වසරටම, තමන්ගේ කුටියෙන් එළියට වඩිනකොට දකුණු පාදයමයි තියවෙන්නෙ. ඒ පන්සාලිස් වසරටම. ඊටපස්සෙ උන්වහන්සේ ඉතා දැන් ගමන් වඩිනකොට ඉතා දුරින් පියවර තබන්නෙත් නෑ, ළඟින් තියන්නෙත් නෑ, වේගයෙන් පියවර තබන්නෙත් නෑ, ඉතා සෙමින් පියවර තබන්නෙත් නෑ, දණහිස්සෙන් දණහිස වද්දවමින් ගැටෙන්නෙත් නෑ, බුදුරජාණන් වහන්සේ ගමන් කරනකොට කවදාවත් දණහිස් දෙක වැදිලා නෑ එකට. ඒ වගේම ගොප් ඇටයෙන්, ගොප් ඇටය වද්දමින් ඇවිදින්නෙත් නෑ, යටපතුලේ යටපැත්තේ පා තියන තැන ඒ ගොප් ඇට දෙක කවදාවත් වැදිලා නෑ. උන්වහන්සේ වඩින විට කලවය උඩට නවන්නෙත් නෑ, යටට නවන්නෙත් නෑ. ඒ වගේම පාදයන් තද කොට තබන්නෙත් නෑ. සිරුරු එහා මෙහා සොළවන්නෙත් නෑ. භවත් ගෞතමයන් වහන්සේ වඩිනවිට කය සෙළවෙන්නේ කයේ යටිකය විතරයි. උඩුකය සෙලවන් නෑ. උන්වහන්සේ කායබලයෙන් වඩින්නෙත් නෑ. ඒ කියන්නෙ ඇඟේ ශක්තිය සම්පූර්ණයෙන් අරන් දුවන්නෙ. එහෙම ගමනක් නෑ, ඒ භවත් ගෞතමයන් වහන්සේ බලද්දි මුළු කයම හරවා බලනවා. ඒකට කියනවා අපි නාගාපලෝකනය කියලා. උන්වහන්සේ උඩ බලන්නෙත් නෑ, යට බලන්නෙත් නෑ, කලබලෙන් වටපිට බලන්නෙත් නෑ, වික්ෂේපයෙන් බලන්නෙත්

නෑ, වියදඬු පමණ දුරක් තමයි උන්වහන්සේ බලන්නෙ. ඉතින් උන්වහන්සේ එහෙම ගියාට උන්වහන්සේගේ ඥාණ දර්ශනය හැමතැනම දැන් මොකක්ද සිද්ධ වෙන්නේ කියලා බුදුරජාණන් වහන්සේ දන්නවා. ඉතින් උන්වහන්සේ ඇතුලු ගමට වඩිද්දි කය උඩට හරවන්නෙත් නෑ. යටට හරවන්නෙත් නෑ, දැන් ඔය පිටට වඩින හැටි තියෙන්නෙ. දැන් මේ තියෙන්නෙ ගම ඇතුලට යන හැටි. උන්වහන්සේ ඇතුලු ගමට වඩිද්දි කය උඩට නවන්නෙත් නෑ, යටට නවන්නෙත් නෑ. කය පද්දවන්නෙත් නෑ, එහා මෙහා නවන්නෙත් නෑ, ඉතා දුර සිටියදී, ඉතා ළඟ සිටියදී ආසනයේ වේගයෙන් වාඩිවෙන්නෙත් නෑ. සමහර අය පුටුවේ ඉඳගන්න හදනවානෙ පුටුවට මීටර් දෙක තුනක් දුරදින් තමයි ඉඳගන්න හදන්නෙ. එහෙමත් නෑ, දෑතට බරදී අසුනෙහි වාඩිවෙන්නෙත් නෑ. අසුනේ වාඩි වූ විට කය බර කරන්නෙත් නෑ, උන්වහන්සේ ඇතුල් ගමට පිවිසුණු විට දෑතින් නොගැලපෙන දෙයක් කරන් නෑ, පා වලින් නොගැලපෙන දෙයක් කරන් නෑ, දැන් සමහර අය ඉන්නවානෙ බිම දැන් පුටුවෙ ඉඳගෙන ඉන්න ගමන් බිම ඉරි අඳිනවා. නැත්නම් බිම හාරනවා මහපට ඇඟිල්ලෙන්. ඒ වාගේ දේවල් බුදුරජාණන් වහන්සේලා කරන්නෙ නෑ. දණහිස් උඩ අනිත් දණ තබා වාඩිවෙන් නෑ, පන්සාලිස් වසරට දණහිස් උඩ දණිස්ස තියාගෙන අසුන් ගෙන නෑ බුදුරජාණන් වහන්සේ. ඊටපස්සෙ ගොප් ඇටයෙන් ගොප් ඇටය නගා වාඩි වෙන් නෑ, අනිත් අතින් නිකට තබාගෙන වාඩිවෙන් නෑ. උන්වහන්සේ ඇතුලු ගමේ වැඩ සිටිද්දි තැතිගන්නෙ නෑ, කම්පා වෙන්නෙ නෑ, සැලෙන්නෙ නෑ. තැතිගැනීම්, කම්පාවීම්, සැලීම්, බියවීම් නැතිව ලොමුඩැහැ ගැනීම් නැතිව වැඩ ඉන්නවා. ඒ භවත් ගෞතමයන් වහන්සේ විවේකයට නැමුණු සිතින්ම ඇතුලු ගමේත් වැඩ ඉන්නවා. උන්වහන්සේ පාත්‍රයට දිය පිළිගනිද්දි පාත්‍රය උඩට ඔසවන්නෙ නෑ, ඔන්න දැන් ඇතුලු ගමට වැඩියානෙ, ඉතින් ගෙවල් වල දානෙට වැඩියානෙ. දැන් බලන්න ඔය ඒ වැඩපු විදිය. දැන් තියෙනවා දානෙ පිළිගන්න විදිය ඒ කාලෙ. උන්වහන්සේ පාත්‍රයට දිය පිළිගනිද්දි පාත්‍රය උඩට ඔසවන් නෑ, පාත්‍රයෙන් යටට පාත් කරන් නෑ, පාත්‍රය තද කොට ගන්නෑ, පාත්‍රය ඔබමොබ සොළවන් නෑ, පාත්‍රයට දිය පිළිගනිද්දි ඉතා ස්වල්පයක් ගන්නෙත් නෑ, ඉතා ගොඩක් ගන්නෙත් නෑ, උන්වහන්සේ බුළු බුළු හඬින් ජලය කැළඹී යන ලෙස පාත්‍රය සෝදන්නෙ නෑ. අත් සේදූ කල පාත්‍රයද සෝදන ලද්දේ වේ. පාත්‍රය සේදූ කල දෑතද සෝදන ලද්දේ වේ. උන්වහන්සේ පාත්‍රය සේදූ දේ ඉතා දුර දමන්නෙත් නෑ, ඉතා ළඟ දමන්නෙත් නෑ. වතුර විසිරෙන පරිදි විසි කරන්නෙත් නෑ. දැන් සමහර තැන්වල තියෙනවා පාත්‍රය තියෙද්දින් අත වෙනම පඩික්කමට හරි භාජනයකට හරි හෝදනවා.

බුදුරජාණන් වහන්සේගේ චාරිත්‍රයක් නෙවෙයි ඒක. සමහර අය පාත්‍රයට වතුර දාගන්නේ අත හෝදගෙන. ඒකත් බුදුරජාණන් වහන්සේගේ චාරිත්‍රයක් නෙවෙයි. පාත්‍රයට පැන් දාලා පාත්‍රය හෝදනකොට අත හේදෙනවා, අත හේදෙනකොට පාත්‍රය හේදෙනවා. ඒ දෙකම එක වෙලාවේ වෙන්නෙ බුදුරජාණන් වහන්සේට. ඉතින් ඒක අපි තේරුම් ගන්න ඕන දැන් එක එක ආරණ්‍ය වල එක එක සම්ප්‍රදායන් තියෙනවා. දැන් මේ තමයි බුදුරජාණන් වහන්සේ අනුගමනය කරපු දෛනික වතාවත් ක්‍රමය. ඊටපස්සෙ උන්වහන්සේ දානය පිළිගනිද්දි පාත්‍රය උඩට ඔසවන් නෑ, පාත්‍රය යටට නවන්නෙත් නෑ, පාත්‍රය තදකොට ගන්නෙත් නෑ, පාත්‍රය ඔබමොබ සොලවන්නෙත් නෑ, දානෙට ඉතා ස්වල්පයක් ගන්නෙත් නෑ, ඉතා ගොඩාක් ගන්නෙත් නෑ. ඒ වගේම ඒ භවත් ගෞතමයන් වහන්සේ දානයට ප්‍රමාණවත් වන පරිදි පමණයි ව්‍යංජන පිළිගන්නෙ. ඒ ව්‍යංජන වලින් බත ඉක්මවා යන්නෙ නෑ, බතට හරියන ව්‍යංජන ප්‍රමාණයක් ගන්න ඕන. ඒක ඉක්මවා යන්නෙ නෑ බුදුරජාණන් වහන්සේලා. ඊටපස්සෙ අපි දැන් බලමු දානෙ බෙදාගත්තු විදිය බුදුරජාණන් වහන්සේ. දැන් වළඳන විදිය බලමු. ඒ භවත් ගෞතමයන් වහන්සේ බත් පිඩ මුවෙහි ඇතුලු කොට දෙතුන් වරක් සපා ගිලිනා සේක. කවදාවත් බුදුරජාණන් වහන්සේ පන්සාලිස් වසක් බත් පිඩක් හතර වතාවක් හපලා නෑ, ව්‍යංජනයෙන් මැනවින් මිශ්‍ර නොවූ බත් උන්වහන්සේගේ කයට ඇතුලු නොවේ. ඒ කියන්නෙ අර දෙතුන් වතාවක් හපනකොට, ඇයි සමදන්ත සවිවර දන්තනෙ. දෙතුන් වතාවක් හපනකොටම ඒ ඔක්කොටම ආහාර රසය ගිහිල්ලා තියෙන්නෙ. ඒ නිසා ඔක්කොම රසය ව්‍යංජන රසයෙන් මිශ්‍ර වෙලා තමයි උගුරෙන් පහළට ඒ ආහාර පිඩ ගමන් කරන්නෙ. ඒ වගේම උන්වහන්සේගේ මුවේ හෝ හක්කේ හෝ ආහාර නොරැඳෙයි. දැන් අද කාලෙ ආහාර ගත්තට පස්සෙ දත් අස්සෙ හිටිනවානෙ. එහෙම නෑ බුදුරජාණන් වහන්සේගේ. අනිත් බත් පිඩ මුවට නගන්නේ ඉන් පසුවයි. දැන් මෙහෙම බත් පිඩක් අරන් වළඳලා දෙතුන් වතාවක් හපලා වැළඳුවාට පස්සෙ, ඒ වැළඳුවාට පස්සෙ තමයි ඊළඟ බත්පිඩ ගන්නෙ. දැන් අද කාලෙ සමහර අය ආහාර ගන්නකොට ආහාර මේ හපද්දි තව එකක් ඇතුලට දානවා. එහෙම වෙනවානෙ. එහෙම නෑ බුදුරජාණන් වහන්සේලාගෙ. ඊටපස්සෙ ඔන්න දැන් ආහාර ගන්නහැටි. ඊටපස්සෙ දානෙ වළඳනකොට එහි ලුණු ඇඹුල් ආදිය රස විඳිමින් වළඳනවා. නමුත් රසරාගයෙන් නොවළඳනවා. රස විඳිනවා, ඒ කෙරෙහි රාගයක් නෑ. භවත් ගෞතමයන් වහන්සේ දන් වළඳද්දී අංග අටකින් සමන්විත වී දන් වළඳනා සේක. දානෙ වළඳන්නෙ කාරණා අටක්

සිහි කරලා බුදුරජාණන් වහන්සේ. ඒ තමයි ඒ දානෙ වළඳන්නේ ජවය ඇති කරගැනීම පිණිස නොවෙයි. සවි ශක්තිමත් වීම පිණිස දන් නොවළඳන සේක. ඒ වගේම මස් පුරවා තරකොට සරසාගැනීම පිණිස දන් නොවළඳනා සේක. අඩු තැන් මසින් පුරවා ගැනීම පිණිස දන් නොවළඳනා සේක. මේ කයෙහි පැවැත්ම පිණිස පමණක් දන් වළඳනා සේක. මේ කයෙහි යැපීම පිණිස පමණක් දන් වළඳනා සේක. ඒ වගේම මේ කයේ වෙහෙස දුරු කරගැනීම පිණිස පමණක් දන් වළඳන සේක. මේ අයුරින් පැරණි කුසගිනි වේදනා නැති කරමින්, අළුත් කුසගිනි වේදනා නූපදවමින් මාගේ මේ ජීවිත යාත්‍රාව නිවැරදි හා පහසුවෙන් පවත්වාගෙන යන අදහසින් යුතුව බඹසර ජීවිතයට අනුග්‍රහ පිණිස පමණක් දන් වළඳනා සේක. එතකොට මේක තමයි අද කාලෙ අපි සාමාන්‍යයෙන් ආහාර ප්‍රත්‍යවෙක්ෂා කරනකොට පටිසංකා යොනිසො පිණ්ඩපාතං පටිසෙවාමි, කියලා සිහි කරන්නෙ මේ කාරණා අට තමයි. බුදුරජාණන් වහන්සේ වදාළා ආහාර වළඳනකොට මේ ප්‍රත්‍යවේක්ෂාව සිද්ධ කරන්න කියලා. එතකොට අපි බලමු ඒ දානෙ වළඳලා ඉවර වුනාට පස්සෙ බුදුරජාණන් වහන්සේ කරන දේවල්. මේ මාස හතක් බුදුරජාණන් වහන්සේගේ හෙවණැල්ල වගේ පිටිපස්සෙන් ගිහිල්ලා මේ උත්තර මානවකයා බුදුරජාණන් වහන්සේ ගැන හොයාගන්න දේවල් තමන්ගේ ආචාරී වූ බ්‍රහ්මායු බ්‍රාහ්මණයාට ඇවිල්ලා කියන විස්තර මේ. කියනවා උන්වහන්සේ වැළඳූ පසු පාත්‍රයට දිය පිළිගනිද්දි පාත්‍රය උඩට ඔසවන්නෙ නෑ, පාත්‍රය පාත් කරන්නෙ නෑ, පාත්‍රය තද කොට ගන්නෙත් නෑ, පාත්‍රය ඔබමොබ සොළවන්නෙත් නෑ, පාත්‍රයට දිය පිළිගනිද්දි ඉතා ස්වල්පයක් ගන්නෙත් නෑ, ඉතා ගොඩක් ගන්නෙත් නෑ, උන්වහන්සේ බුළු බුළු හඬින් ජලය කැළඹී යන ලෙස පාත්‍රය සොළවන්නෙත් නෑ, යළි යළිත් පාත්‍රය සෝදන්නෙත් නෑ, ඒ වගේම පාත්‍රය බිම තබා අත් සෝදන්නෙත් නෑ, අත් සේදූ කල පාත්‍රය සෝදන ලද්දේ වේ, පාත්‍රය සේදූ කල දෑතද සෝදන ලද්දේ වෙයි. දැන් අර පාත්‍රය වෙනම තියලා අත වෙනම ගිහිල්ලා හෝදගෙන ඒමනාවක් නෑ බුදුවරුන්ගේ. උන්වහන්සේ පාත්‍රය සේදූ දිය ඉතා දුර දමන් නෑ. ඉතා ළඟ දමන්නෙත් නෑ, වතුරු විසිරෙන පරිදි විසික්ක කරන්නෙත් නෑ. උන්වහන්සේ වැළඳූ පසු පාත්‍රය බිම තබන්නෙත් නෑ, ඉතා දුර තබන්නෙත් නෑ, ඉතා ළඟ තබන්නෙත් නෑ. පාත්‍රයකින් පළක් නැති පරිද්දෙන් සිටින්නෙත් නෑ, පාත්‍රය බොහෝ වෙලාවක් රැකබලාගන්නෙත් නෑ, කියන්නෙ පාත්‍රයම බදාගෙන වාසය කිරීමක් නෑ. උන්වහන්සේ වැළඳූ විට මොහොතක් නිශ්ශබ්දව වැඩ සිටින සේක. ඒ දානෙ වළඳලා ඉවර වුනාට පස්සෙ. අනුමෝදනා බණට කල් නොයික්මවන සේක.

වෙන වෙන කතා කිය කියා දහම් දේශනාවට කල් ගන්නෙ නෑ, බුදුරජාණන් වහන්සේ මොහොතක් නිහඬව වැඩ ඉඳලා ඊටපස්සෙ ධර්ම දේශනාව ආරම්භ කරනවා. ඊටපස්සෙ උන්වහන්සේ වැළඳූ පසු අනුමෝදනා කරන සේක. වළඳන කල දානයට නොගරහන සේක. වෙන දානයක්ද නොපතන සේක. ඒකාන්තයෙන්ම දැහැමි කතාවෙන් පිරිසට කරුණු දක්වන සේක. සමාදන් කරවන සේක, උනන්දු කරවන සේක. සතුටු කරවන සේක. උන්වහන්සේ ඒ පිරිසට දැහැමින් කරුණු දක්වා සමාදන් කරවා සතුටු කරවා උනන්දු කරවා හුනස්නෙන් නැගී නික්ම වඩිනා සේක. ඔන්න දැන් දානෙ ඉවරවෙලා භාග්‍යවතුන් වහන්සේ වෙහෙරට වඩිනවා. ඒ වඩිනහැටි බලමු. උන්වහන්සේ ඉතා වේගයෙන් නොවඩින සේක. ඉතා සෙමින් ද නොවඩින සේක. පිරිසෙන් නිදහස් වනු කැමැත්තෙන් මෙන් නොවඩින සේක. ඒ භවත් ගෞතමයන් වහන්සේ කයෙන් සිවුර උඩට ඉස්සෙන පරිදි නොපොරවන සේක. සිවුර ඉස්සෙන විදියට සිවුර පොරවන් නෑ, එල්ලා වැටෙන විදියට සිවුර පොරවන් නෑ. ඇඟ හිරවෙලා පේන විදියට සිවුර පොරවන් නෑ. ඇඟ බුරුල් වෙලා තියෙන විදියට සිවුර පොරවන්නෙත් නෑ, භවත් ගෞතමයන් වහන්සේ විසින් පොරවා සිටින සිවුර සුළඟින් ගසා නොයන ස්වභාවයෙන් යුක්තයි. ඒ භවත් ගෞතමයන් වහන්සේගේ කයේ දූවිලි කුණු නොතැවරෙන ස්වභාවයෙන් යුක්තයි. උන්වහන්සේ ආරාමයට වැඩම කළ පසු, ඔන්න දැන් දානෙ වළඳලා ආරාමයට වඩින දක්වා ඔය විස්තරය කලේ. දැන් බලමු බුදුරජාණන් වහන්සේ ආරාමයට වැඩියාට පස්සෙ. අසුනෙහි වැඩ සිටින සේක. වැඩ හිඳ දෙපා සෝදා ගන්නා සේක. ඒ භවත් ගෞතමයන් වහන්සේ දෙපා සැරසීමේ අදහසින් නොසෝදන සේක. උන්වහන්සේ පා සෝදා පළඟක් බැඳ වාඩි වී කය ඍජු කොට තබාගෙන භාවනා අරමුණකට සිහිය යොදවා වැඩ සිටිනා සේක. දන් වළඳලා වැඩියාට පස්සෙ පා සෝදනවා, පාසෝදන්නෙ වෙනම ලස්සන වෙන්න එහෙම හිතාගෙන නෙවෙයි. අර පා වල චාරිත්‍රයක් විදියට දූවිලි සේදී යන විදියට වගේ පා දෝවනය කරලා එහෙම කය ඍජු කරගෙන භාවනා අරමුණින් වැඩ ඉඳලා උන්වහන්සේ භාවනාවකට සමවදිනවා. උන්වහන්සේ තමන් හට පීඩා පිණිස නොසිතන සේක. අනුන් හට පීඩා පිණිස නොසිතන සේක. දෙපාර්ශ්වයටම පීඩා පිණිස නොසිතන සේක. තමන් හට හිත පිණිස ද අනුන් හට හිත පිණිස ද සකල ලෝක සත්ත්වයාට හිත සුව පිණිසද උතුම් සිතිවිලි සිතමින් භවත් ගෞතමයන් වහන්සේ වැඩ සිටිනා සේක. උන්වහන්සේ ලෝකයට අනුකම්පා පිණිස යහපත පිණිස වැඩ සිටින ආකාරය. ඊළඟට බලමු දහම් දේශනා කරන

ආකාරය. උන්වහන්සේ ආරාමයට වැඩම කළ විට පිරිසට දහම් දෙසන සේක. ඒ පිරිස හුවාදක්වමින් වර්ණනා නොකරන සේක. හෙලා නොදකින සේක. ඒකාන්තයෙන්ම දැහැමි කතාවෙන් පිරිසට කරුණු දක්වන සේක. සමාදන් කරවන සේක, උනන්දු කරවන සේක, සතුටු කරවන සේක. ඒ වගේම ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේගේ මුඛයෙන් අංග අටකින් සමන්විත බ්‍රහ්මස්වරය නික්මෙන්නේය. එතකොට බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරනකොට බ්‍රහ්මස්වරය තමයි ඒ හඬින් යන්නෙ. මොනවද ඒ කාරණා අට? එක තමයි, විසත්තො, ගොත ගැහෙන්නෑ බණ කියනකොට. බාධාවක් උගුර පෑදීමක් නැතිව සුවසේ වචන නික්මෙනවා. දෙවෙනි එක විඤ්ඤෙයියො, අවබෝධය ඇතිවෙන වචන විතරක් නිකුත් වෙන්නෙ. ඒ තමයි විඤ්ඤෙයියො, බුදු කෙනෙක්ගේ වචන වල හඬේ තියෙන එක ඔය. මංජු, මංජු කියන්නෙ මධුර හඬ. සවණියෝ, සවන් යුග ඇදීගෙන යනවා ඒ හඬට. බින්දු, ඒ ස්වර හොඳින් එකට කැටිගැහිලා තියෙන්නෙ, වචන විසිරෙන් නෑ. අවිසාරී, පිරිසෙන් බැහැරට යන්නෑ හඬ. ගම්භීරෝ, ගම්භීරයි. නින්නාදි, ඒ ස්වරය දෝංකාරයි. මේ විදියට කාරණා අටක් තියෙනවා හඬේ. මේ ධර්ම දේශනා කරද්දි. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ දහම් දේශනා කරද්දි ස්වරයෙන් පිරිස දැනුවත් කරන සේක. උන්වහන්සේගේ හඬ එම පිරිසෙන් බැහැරට නික්ම යන්නෙ නෑ. ඒ භවත් ගෞතමයන් වහන්සේගේ හඬින් දහම් දෙසද්දින් ඒ දැහැමි කරුණුම තමයි ඉස්මතු වෙන්නෙ. එයින් පිරිස සතුටු වෙනවා, උනන්දු වෙනවා. හුනස්නෙන් නැගී ඉන්නවා. භවත් ගෞතමයන් වහන්සේ බැහැරට දැමූ ස්වභාවයෙන් ඒ මිනිස්සු නික්මෙන් නෑ. බොහෝම ගෞරවයෙන් ආදරයෙන් තමයි මිනිස්සු බණ අහලා යන්නෙ. ඒ වගේම භවත් ගෞතමයන් වහන්සේ දෙස නැවත නැවතත් බලමින් යන් නෑ, භවත්නි අපි වඩින්නා වූ භවත් ගෞතමයන් වහන්සේව දැකගත්තා. වාඩිවී සිටින අයුරු දැකගත්තා. ගමට වඩින ආකාරය දැකගත්තා. ඇතුල් ගමට වඩින ආකාරය දැකගත්තා. දන් වළඳා අනුමෝදන් කරන හැටි දැකගත්තා. ආරාමයට වඩින අයුරු දැකගත්තා. ආරාමයට වැඩම කොට නිහඬව ඉන්න අයුරු දැකගත්තා. ආරාමයට පැමිණෙන පිරිසට දහම් දේශනා කරන ආකාරය දැකගත්තා කිය කියා තමයි ඒ අය ඉතාමත් සතුටට පත්වෙනවා කියනවා මමත් ඒ විදියට ඒවා දැකගත්තා. භවත ඒ භවත් ගෞතමයන් වහන්සේ මෙබඳු මෙබඳු ගුණයන්ගෙන් යුක්තයි. ඊටත් වඩා අපිට කියන්න බෑ බුදු කෙනෙක්ගේ ගුණ කියලා උත්තර බ්‍රහ්මායු බ්‍රාහ්මණයාට කියනවා. දැන් මට පුදුමයි මෙච්චර විස්තර දැනගෙන උත්තර මානවකයා පැවිදි

නොවිච්ච එක ගැන. නමුත් අනිවාර්යයෙන් මේ ශාසන පිහිට ගන්න ඇති. මොකද මාස හතක් බුදුරජාණන් වහන්සේ ළග සැරිසරද්දි ඇයි ඔබ ඉන්නෙ කින්ද මන්ද කියලාවත් බුදුරජාණන් වහන්සේ අහලා නෑ එයාගෙන්. බුදුරජාණන් වහන්සේ දන්නවා මෙතනින් පස්සෙ සිද්ධ වෙන එක. ඊටපස්සෙ මෙහෙම කියපු ගමන් බ්‍රහ්මායු බ්‍රාහ්මණයා හුනස්නෙන් නැගිටලා උතුරු සළුව ඒකාස කරලා පොරවලා භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටපු දිශාවට නමස්කාර කලා. එතකොට ඒ බුදුරජාණන් වහන්සේට නමස්කාර කලේ අවුරුදු එකසිය විස්සේ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා නමෝතස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස, නමොතස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස, නමොතස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස කියලා තුන් පාරක් නමස්කාරය කියලා ඒ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ ඉන්න දිශාවට වන්දනා කරනවා. ඊටපස්සෙ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා කියනවා අපිටත් කිසියම් දවසක ඒ භවත් ගෞතමයන් වහන්සේ සමඟ එක්වෙන්න ලැබුනොත්, කතා සල්ලාපයක් උන්වහන්සේ සමඟ අපිට කරන්න ලැබුනොත් කොච්චර අගෙයිද, උන්වහන්සේ වගේ කෙනෙක් අපිට ඇසුරු කරන්න ලැබුනොත් කියලා දැන් මෙයා හිතනවා කියනවා. දැන් මෙයා සන්තෝෂයට පත්වෙනවා බුදුරජාණන් වහන්සේ ගැන අහලා කියලා. එතකොට මේ තියෙන්නෙ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ කවුද කියලා බලලා එන්න උත්තර මානවකයා යවලා ඒ උත්තර මානවකයා ඇවිල්ලා කියපු විස්තරය. ඊළඟට මේ සූත්‍රයේම තියෙනවා බුදුරජාණන් වහන්සේ මිථිලාවට වඩිනකොට බ්‍රහ්මායු බ්‍රාහ්මණයා යනවා බුදුරජාණන් වහන්සේ බැහැදකින්න. ඒ සිද්ධිය අපි ඒ සිද්ධිය ඊළඟ දවසේ කතා කරමු. ඉතින් අද දවසේ භාග්‍යවතුන් වහන්සේ මේ බ්‍රහ්මායු සූත්‍රය තමයි පැහැදිලිවම තියෙන්නෙ, බුදුරජාණන් වහන්සේ කුටියෙන් වඩින හැටි, ගමට වඩින හැටි, දානෙට වඩින හැටි, දානෙට පැන් පිළිගන්න හැටි, දන් වළඳන හැටි, පාත්‍ර සෝදන හැටි, ආපහු වඩින හැටි, ධර්මය දේශනා කරන හැටි, භාවනාවෙන් වැඩ ඉන්න හැටි, ඒ හැම විස්තරයක්ම එක සූත්‍ර දේශනාවක තියෙන්නෙ, මේ බ්‍රහ්මායු සූත්‍රයේ. ඒ නිසා බලන්න බුදුරජාණන් වහන්සේලාගේ, ඉතින් බුදුරජාණන් වහන්සේලාගේ හෙවණැල්ල වගේ ළඟ ඉඳලා බුදුරජාණන් වහන්සේලාගේ දොස් අඩුපාඩු හොයන්න අයටත් අවසානයේ පහදින්නම කරුණු මිසක්කා අඩුපාඩු දෝෂ හොයාගන්න නෑ බුදුවරුන්ගේ. හේතුව එවැනි දෙයක් නැති නිසා. ඒ නිසා කිසිම අඩුපාඩුවකින් දෝෂයකින් තොර වූ ඊළඟට කපන්න කපන්න ඔපදමන්න ඔපදමන්න බබළන මාණික්‍යයක් වගේ සිදින්න

සිදින්න සුවඳ හමන සඳුන් හරක් වගේ, විමසන්න විමසන්න බුදුගුණම ප්‍රකට වෙවී යන බුදුරජාණන් වහන්සේ දිවිහිමියෙන් නිවන් දකිනතුරු මම සරණ යනවා කියලා හිතන්න. ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු, නිවන් දකිනතුරු මේ උතුම් ශ්‍රී සද්ධර්මය, මේ උතුම් භාග්‍යවතුන් වහන්සේගේ අනන්ත සරණ මාගේ ජීවිතයට එකම පිහිට වේවා කියලා අධිෂ්ඨානයක් ඇතිකරගන්න.

ඉතින් අද දවසේ මේ උතුම් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඉතාලියේ පදිංචි පින්වත් ඩී.ජී. ජයවතී පෙරේරා මහත්මිය, ඒ වගේම මේ මහත්මියගේ අරමුණ වෙලා තියෙනවා පින් අනුමෝදන් කිරීමක්. විශේෂයෙන් පළමුවෙන් සියලු දෙවිවරුන්ට මේ පින් අනුමෝදන් වී මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා කියලා අපි පින් අනුමෝදන් කරමු. ඒ වගේම 2020 ජූනි මස 25 වෙනි දිනට මියපරලොව ගොස් වසර 16ක් සපිරෙන ඩබ්ලිව්.ඒ. විමලදාස පීරිස් පියාණන්ට ඒ වගේම පුංචිනෝනා මැණියන්ට සහ ඩී.ජී. මංගලිකා මහත්මියට මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ මියපරලොවගිය, කාගෙත් ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී පරලොව සැපය වේවා කියලා පින් පමුණුවනවා. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වී නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. ගරුතර මහාසංඝරත්නයටත්, ඒවගේම අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් මේ පින් බලෙයන් ධර්මාවබෝධය සැලසේවා. අසනීප තත්ත්වයෙන් පුසවන කල්පනා ශ්‍රීමාලි දියණියට නිදුක් නිරෝගී සුවපත්භාවය සැලසේවා. ඉතාලියේ පදිංචිව සිටින ඩබ්ලිව්.ඒ. සුමිත් රෝහණ පීරිස් මහත්මයාට, ඩබ්ලිව්.ඒ. ලියෝන් පුතාට, ඩබ්ලිව්.ඒ. උපුල් රෝහණ පීරිස් මහත්මයා ඇතුලු සැමටත්, ඒ වගේම දැරණියගල ලක්ෂයගම පදිංචි ඩබ්ලිව්.ඒ. ආනන්ද ප්‍රේමකුමාර පීරිස් මහත්මයා ඇතුලු පවුලේ සැමටත්, අවිස්සාවේල්ල පදිංචි ඩබ්ලිව්.ඒ. ජානක ප්‍රියන්ත සමන්කුමාර පීරිස් මහත්මයා ඇතුලු පවුලේ සැමටත් ඒ වගේම මේ පින් අනුමෝදන් වේවා. ඉතාලියේ පදිංචි පින්වත් ඩී.ජී. ජයවතී පෙරේරා මහත්මියගේ මේ ධර්මදානයේ පින් බලයෙන් ඔබතුමියටත් ඒ පවුලේ සියලු දෙනාටත් සියලු රැකවරණ, නිදුක් නිරෝගී සුව ගෙඟතම බුදුසසුනේ අසිරිමත් සම්බුදු සරණින් සැනසෙන්නට මේ පින් හේතු වාසනා වේවා කියලා පින් පමුණුවනවා. ඉතින් ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ කාර්ය මණ්ඩලය සහ ධර්මය අහන ඔබ සියලු දෙනාට, අපගේ මව් දෙමව්පිය

ඥාතිබන්ධුමිත්‍රාදීන්ට අපි කාටත් මේ පින් බලයෙන් උතුම් සම්බුදු සරණ, ශ්‍රී සද්ධර්මයේ සරණ, ආර්ය මහා සංඝරත්නයේ සරණම සැලසේවා. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මේ උතුම් තිසරණය අපගේ ජීවිතයට එකම පිළිසරණ වේවා. සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතුවාසනා වේවා. සාදු සාදු සාදු!!!

https://www.youtube.com/watch?v=r1HH9zWazfw&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=77

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අපි මීට කලින් වැඩසටහනක කතා කලා ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ගැන විමසන්න ශ්‍රාවකයන්ට බුදුරජාණන් වහන්සේ සම්පූර්ණයෙන්ම නිදහස දීලා තිබ්බා ශාස්තෘන් වහන්සේ ගැන ඕන තරම් විමසන්න. ඒ විදියට ශාස්තෘන් වහන්සේ ගැන විමසන්න නිදහස දුන්න තවත් වෙනත් ශාසනයක් නැති තරම්. වෙන කිසිම ආගමක, වෙන කිසිම දහමක, වෙන කිසිම ජාතියක ආගමික නායකයෙක් ගැන ඒ විදියට විමසන්න නම් අවස්ථාවක් දීලා නෑ. ඒ විදියට අපේ බුද්ධ ශාසනයේ විමසන්න අවස්ථාවක් දුන්නා. ඒ වගේම විමසලත් තියෙනවා. දැන් අපි බ්‍රහ්මායු සූත්‍රය කතා කරමින් ඉන්නෙ. බ්‍රහ්මායු සූත්‍රයේ උත්තර මානවකයා

හෙවණැල්ල වගේ මාස හතක් බුදුරජාණන් වහන්සේගේ පිටිපස්සෙ ගිහිල්ලා තියෙනවා බුදුරජාණන් වහන්සේ විමසීම පිණිස. අද අපි ඒ සූත්‍රයේ ඉතුරු කොටසයි කතා කරන්නෙ. අද අසිරිමත් සම්බුදු සරණ මේ උතුම් දහම් වැඩසටහන සඳහා ඉතාලියේ පදිංචි පින්වත් චානුක ශෙහාන් මහත්මයා ඒ වගේම නිශානි ඉෂාරා බිරිඳ ඒ වගේම වත්සලා ප්‍රියදර්ශනී සහෝදරිය සහ මෙරට පදිංචි පවුලේ සියලු දෙනා තමයි දායකත්වය දරන්නෙ. ප්‍රධාන අරමුණ බවට පත්වෙලා තියෙනවා ඒ පවුලේ සියලු දෙනාට, විශේෂයෙන් ශෙහාන් මහත්මයාට නිශානි අශාරා බිරිඳට වත්සලා ප්‍රියදර්ශනී සහෝදරියට, හිරුන් ඒකනායක, අරුන් ඒකනායක යන සිඟිති පුතාලා දෙන්නාට නිදුක් නිරෝගී සුවපත් භාවයත්, ඉක්මණින් මව්බිමට පැමිණෙන්න ආශිර්වාද පිණිසත්. උතුම් බුද්ධානුභාවයෙන් මේ ඇත්තන්ගේ යහපත් අදහස් ඉටුවෙලා මව්බිමට පැමිණෙන්න මේ ධර්ම දානයේ පින හේතුවාසනා වේවා කියන ආශිර්වාදය පෙරටු කරගෙන අද අපි ධර්මදේශනාව ආරම්භ කරනවා. ඉතින් පින්වත්නි ඔන්න භාග්‍යවතුන් වහන්සේ ගැන අහන්න ලැබුනා, විදේහ නුවරට, බුදුරජාණන් වහන්සේ වැඩියාට පස්සෙ පන්සීයක් සංඝයා සමඟ බ්‍රහ්මායු කියන බ්‍රාහ්මණයාට. මේ බ්‍රාහ්මණයාට වයස අවුරුදු එකසිය විස්සයි. ත්‍රිවේදයේ පාරප්‍රාප්ත, අක්ෂර මහා පුරුෂ ලක්ෂණ දන්න ඒ බමුණන් අතර බ්‍රහ්මායු බ්‍රාහ්මණයා ශ්‍රේෂ්ටයි. ඒ සියලු දෙනා ඔහුට ගරු කරනවා. උත්තර කියන මානවකයාට කතා කරලා පුත්‍ර ඔබ මෙහි පැමිණෙන්න. ඔබ ගිහිල්ලා ඒ ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ ඔය කියන ගුණ තියෙනවාද කියලා බලන්න ඕන. මොකද මේ කාලෙන් කාලෙට මම සම්බුදු වුනා මම සම්බුදු වුනා කියලා මේ එක එක්කෙනා කියනවා. නමුත් බුදුවරුන්ගේ තියෙනවා මහා පුරුෂ ලක්ෂණ තිස් දෙකක්. ඉතින් ඒ තිස් දෙක විමසන්න ඔබ. හොඳට බලලා ඒ තියෙන ගුණ ඇත්තද, ඒ පැතිරිලා තියෙන යශෝරාවය, එහෙම නැත්නම් වෙනත් ආකාරයකින්ද කියලා, පුත්‍රය නුඹට විතරයි මේක තේරෙන්නෙ කියලා බ්‍රහ්මායු බ්‍රාහ්මණයා හැරුණු කොට ඔහුගේ ශිෂ්‍යයන් අතරින් දක්ෂම උත්තර මානවකයා බුදුරජාණන් වහන්සේ ළඟට යැව්වා. ඉතින් උත්තර මානවකයා බුදුරජාණන් වහන්සේගේ මහා පුරුෂ ලක්ෂණ තිස් දෙක දුටුවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ කුටියෙන් එළියට වඩින හැටි, බුදුරජාණන් වහන්සේ ගමට වඩින හැටි, ගෙවල් වලට වඩින හැටි, දානෙට පැන් පිළිගන්න හැටි, දානෙ බෙදනකොට ඉන්න හැටි, දානෙ වළඳන හැටි, දානෙ වළඳලා පාත්‍රය හෝදන හැටි, ගෙදර අයට දහම් දෙසන හැටි, ගෙදරින් පිටවෙන හැටි, ආපහු වෙහෙරට

වඩින හැටි, ඒ වගේම ආරාමයේ ඇවිල්ලා විවේකයෙන් වැඩ ඉන්න හැටි, දහම් දෙසන හැටි, මේ හැමදෙයක්ම සෙවණැල්ල වගේ මාස හතක් බලාගෙන හිටියා. එහෙම බලාගෙන ඉඳලා ඇවිල්ලා බ්‍රහ්මායු බ්‍රාහ්මණයාට කියා හිටිනවා, බ්‍රාහ්මණය ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ කියනවාටත් වැඩිය ගුණ තියෙන කෙනෙක්. උන්වහන්සේ මෙහෙමයි ගමට වඩින්නෙ. මෙහෙමයි දන් වළඳන්නෙ. මෙහෙමයි දහම් දෙසන්නෙ. උන්වහන්සේගේ මහා පුරුෂ ලක්ෂණයෝ මේවාය, විස්තර කලා. ඒ විස්තර අහලා විස්තර කියලා කියනවා මීටත් වඩා ගුණ තියෙනවා ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ තුළ. එය ඇසූ ගමන් බ්‍රහ්මායු බ්‍රාහ්මණයා යම් දිශාවක තථාගතයන් වහන්සේ වැඩ සිටිනවාද, ඒ දිශාවට දෑත නළලේ තියාගෙන නමෝතස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස කියලා ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේට නමස්කාර වේවා කියලා තුන් වතාවක් නමස්කාර කරනවා. අනේ ඒ වාගේ උත්තමයන් වහන්සේ නමක් මටත් දකින්න ලැබෙනවා නම්, අනේ ඒ වගේ උත්ත්මයන් වහන්සේ නමක් මටත් ඇසුරු කරන්න ලැබෙනවානම්, ඒ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා සිතුවා. ඉතින් භාග්‍යවතුන් වහන්සේ අනුපිළිවලින් චාරිකාවේ වඩිමින් මිථිලාවටත් වැඩම කලා. එසඳ භාග්‍යවතුන් වහන්සේ මිථිලාවේ මඛාදේව අඹ වනයේ වැඩ හිටියා. එවිට මිථිලා නුවරවාසී බ්‍රාහ්මණ ගෘහපතිවරුන්ට අහන්න ලැබුනා ශාක්‍ය කුලයෙන් නික්මිලා විදේහ නගරය හරහා මිථිලාවට භාග්‍යවතුන් වහන්සේ වැඩලා අඹ වනයේ වැඩ ඉන්නවා. උන්වහන්සේ එසේ මෙසේ කෙනෙක් නෙවෙයි. ඒ ගමේ පැතිරුණා. රාග, ද්වේෂ, මෝහ දුරු කරපු කෙනෙක්. අරහං, ඒ වගේම ස්වයංභූත් ඥාණයෙන් ආචායර්ීවරයෙක් නැතිව විමුක්තියට පත්වෙච්චි කෙනෙක්, සම්බුද්ධත්වයට පත්වෙච්චි කෙනෙක්, සම්මා සම්බුද්ධ. උන්වහන්සේගේ අභ්‍යන්තරයේත් බාහිරත් හැසිරීම් තුළත් කතාබහ තුළත් උන්වහන්සේ යමක් අවබෝධ කලාද එයම ප්‍රකට වෙවී යනවා. විජ්ජාචරණ සම්පන්නයි. අනන්ත විද්‍යා ගුණ තිබෙනවා. උන්වහන්සේගේ ගමන බිමන කතාව අවබෝධ කරපු දහම් මග සොඳුරුයි, සුගතයි. උන්වහන්සේ සියලු ලෝකයන් අතැඹුලක් සේ අවබෝධ කරලාලු, ලෝකවිදූ. ඒ වගේම අන් අය දමනය කරන්න අතිශයින් විශ්මිත හැකියාවක් ඇති කෙනෙක්ලු, අනුත්තර පුරිසදම්ම සාරථී. දෙවියෝ පවා බ්‍රහ්මයෝ පවා මිනිස්සුන් පමණක් නෙවෙයි, විමුක්තියට මඟ අසාගන්නේ මේ උත්තමයාගෙන්ලු, සත්ථා දේව මනුස්සානං. උන්වහන්සේ පවසන දහම අන් අයට වැටහෙනවා, මනා සේ සොඳුරු සේ ඒ ඒ නුවණ තියෙන තියෙන පමණට

අවබෝධ වෙනවා, බුද්ධ. මහා පින්වන්ත කෙනෙක් කියලයි කතාව, ආරංචිය, භගවා. මේ වාගේ රාවයක් යනවා. උන්වහන්සේ ධර්මය දේශනා කරන්න ගත්තොත් ඒ කියන බණ පදවල මුල, මැද, අග ගාණට ගැලපිලා යනවා, පැහැදිලි අර්ථ, පැහැදිලි වචන දේශනාව තුළින් මතුවෙවී යනවා. ඈ භවත්නි ඔය වාගේ උත්තමයන් වහන්සේ නමක් දැකගන්න ලැබුනොත් චතාරූපං අරහන්තං දස්සනාය, ඒ වාගේ රහතන් වහන්සේ නමක් දැකගන්න ලැබුනොත් ඒක මහා භාග්‍යයක් නෙවෙයිද, වරෙල්ලා යන්න. ගං වල මිනිස්සු එකතු වුනා. ඒ මිනිස්සු ටික, ඔන්න දැන් බ්‍රාහ්මණයො ගෘහපතිවරු ඔක්කොම මිථිලාවේ මඛාදේව අඹ වනයට ඇතුලු වුනා. දැන් මඛාදේව අඹ වනය මුල් කරගෙනනෙ මඛාදේව සූත්‍රය දේශනා කලේ. අපි ඒක දවසක් තිබුනොත් කතා කරමු. ඊටපස්සෙ මේ විදියට මිනිස්සු එක රොත්තට එක ගමන් මාර්ගයෙන් යනකොට බ්‍රහ්මායු බ්‍රාහ්මණයාටත් අහන්න ලැබුනා ආන්න මිනිස්සු ඔක්කොම රොත්තට යනවා මඛාදේව වනයට, අර ශ්‍රමණ භවත් ගෞතමයන් පන්සීයක් භික්ෂූන් සමඟ වැඩලා නෙව. දන්නවා නේද උන්වහන්සේ අරහං සම්මා සම්බුද්ධ විජ්ජාචරණ සම්පන්න සුගත ලෝකවිදූ අනුත්තරෝ පුරිසදම්ම සාරථී සත්ථා දේව මනුස්සානං බුද්ධ භගවා කියන ගුණෙන් යුතු ශාක්‍ය කුලයෙන් නික්මිලා ශාක්‍ය රාජ කුමාරයා ඔය පැවිදි වෙලා ඉන්නෙ. මුල, මැද, අග පිරිසිදු දහමක් නෙව දේශනා කරන්නෙ. බොහෝ දෙනාගේ සිත් සනසනවා, අමාදම්පදයෙන්. එතකොටම ප්‍රීතියෙන් නිම්හිම් නැතිව ගියා බ්‍රහ්මායු බ්‍රාහ්මණයාට. බ්‍රහ්මායු බ්‍රාහ්මණයා හරී වැදගත් චරිතයක්. ඇයි අවුරුදු එකසිය විස්සක් වුනු බ්‍රාහ්මණ දහමේ ගොඩාක් පරතෙරට පත් ප්‍රභූ බ්‍රාහ්මණයෙක්නෙ. හරී වැදගත් ප්‍රභූවරයෙක්. ඔහු කල්පනා කරනවා මම එකපාරටම ඔතෙන්ට ගියාට පස්සෙ පිරිස කලබල වෙනවා. ඒ නිසා මං වාගේ කෙනෙක් එකපාරම ඔතෙන්ට යන එක සුදුසු මදි. ඒ නිසා මං කලින් පණිවිඩයක් යවන්න ඕන කියලා තව තරුණයෙකුට කතා කරලා කිව්වා, මෙහෙ වරෙන් පුත්‍රය, උඹ පලයං ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ළඟට. ගිහිල්ලා කියාපං භවත් ගෞතමයන් වහන්ස, ඉස්සෙල්ලාම සැප දුක් සුව සනීප අහපං. හොඳින් වැඩියාද, කරදරයක් නෑ නේද, ලෙඩක් දුකක් නෑ නේද, එහෙම අහලා කියන්න කීවා භවත් ගෞතමයන් වහන්ස, මේ ගමේ ඉන්නවා බ්‍රහ්මායු කියලා බ්‍රාහ්මණයෙක් අවුරුදු එකසිය විස්සක් වයස ඉතාමත් වයෝවෘද්ධ වයසක බ්‍රාහ්මණයෙක්. හැබැයි ත්‍රිවේදයේ පරතෙරට පත්වෙලා ඉන්නෙ, ගොඩාක් අය බ්‍රහ්මායු ගෘහපතියාට බ්‍රාහ්මණයාට වඳිනවා පුදනවා, ඒ වගේම ගොඩාක් භවභෝග

තියෙන කෙනෙක්. ඒ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා ආයුෂෙන් කීර්තිරාවයෙන් අග්‍ර වෙලා ඉන්නවා. ඒ වගේම ඔබවහන්සේ වැඩියා කියලා ආරංචි වෙලා දකින්න කැමැත්තෙන් ඉන්නවා කියලා ගිහිල්ලා කියාපංකො කියලා කිව්වා. අර මානවකයා - මෙයා උත්තර මානවකයා නෙවෙයි වෙන එක්කෙනෙක්. ශිෂ්‍යයන් අතරින් තව තරුණයෙක්. එයත් ගිහිල්ලා මඛාදේව අඹ වනයට භාග්‍යවතුන් වහන්සේට කියා හිටිනවා ඔබවහන්සේ කොහොමද සැප සනීප, සුව සනීප. ඒ විස්තර අහලා ආගිය වැලගිය තොරතුරු ටිකක් අහලා කිව්වා අපේ ගමේ ඉන්නවා බ්‍රහ්මායු කියලා බ්‍රාහ්මණයෙක්. අවුරුදු එකසිය විස්සයි වයසයි, භාග්‍යවතුන් වහන්සේ දැක බලාගන්න හරි ආසාවෙන් ඉන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා එහෙනම් මානවකය, ඒ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා යම් දෙයක් කැමැති නම් එයාට ඒ විදියට කරන්න කියලා කියන්න. ඒකට අවස්ථාව තියෙනවා කියලා කියන්න. ඉතින් ඉඩප්‍රස්තාව ලැබුනා. ඉතින් ඔන්න ඒ මානවකයා ගිහිල්ලා කිව්වා. මානවකයා කියන්නෙ තරුණයා. මානවකයා, ඒ කාලෙ වචනනෙ. නැත්නම් මානවකයා කිව්වම ආයෙ හිතනවා කවුද ඒ මානවකයා. මානවකයා වනාහි කවුරුන්ද කියලා ආයෙත් හොයනවා. දැන් සමහර වෙලාවට අපි බණට කියලා තියෙනවා උදේ හවස වත පිරිත කරන්න ඕන කියලා. හරියට ලියුම් ආවා, ඒ වගේම හරියට ටෙලිෆෝන් කෝල්ස් ආවා වත පිරිත තියෙන්නෙ මොන පොතේද කියලා. මොන පිරිත් පොතේද කියලා. වත පිරිත කියන්නෙ දැන් අපි කියන මොකක්හරි පිරිතක් තියෙනවානෙ, කරණීයමෙත්තසූත්‍රය, රතන සූත්‍රය උදේ හවස අපි ඒක කියන එකට තමයි වත පිරිත කියනවා කියන්නෙ. වතක් විදියට නිරන්තරයෙන් නොකඩවා පිරිත් කියන එකට තමයි වත පිරිත කියන්නෙ. නැත්නම් වෙනම කරණීය මෙත්ත සූත්‍රය, කන්ද පිරිත වාගේ වත පිරිත කියලා වෙනම පිරිතක් නෑ. ඒකයි මං මෙතන මානවකයා කියනකොට ඒකත් විස්තර කලේ, මානවකයා කියන්නෙ තරුණයා කියන එක. ශිෂ්‍යයෙක්නෙ බ්‍රහ්මායු බ්‍රාහ්මණයාගේ. ඉතින් ඔහු ගිහිල්ලා බ්‍රහ්මායු බ්‍රාහ්මණයාට කියා හිටියා භාග්‍යවතුන් වහන්සේ අවස්ථාව ලබාදුන්නා ඔබතමුන්නාන්සෙට කියලා. එහෙනම් බොහොම අගෙයි පුත්‍රය මම යන්න ඕන කියලා බ්‍රහ්මායු බ්‍රාහ්මණයා - හැරමිටියෙන් වෙන්න ඕන - බොහොම සෙමින් ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේව දැක බලාගෙන පිළිසඳර කතාබහ කරලා එකත්පැත්තක ඉඳගත්තා. තව වන්දනාමාන එහෙම කලේ නෑ ඉතින්. මොකද භාග්‍යවතුන් වහන්සේ ඉතාමත් තරුණයි. මේ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා එකසිය විස්සයි. ඒ වගේම ඒ කාලෙ බමුණො මහා තෙදකින්

හිටියෙ. බ්‍රාහ්මණයො සාමාන්‍යයෙන් හිතට අරගෙන වගේ ඒ කාලෙ ඉන්නෙ. අනිත් අය ගොඩාක් යටහත් පහත් බමුණො ඉදිරියේ ඒ කාලෙ. ඔවත් මුල් කරගෙන අර තරුණ වයසේ ඉන්න කෙනෙක් වගේ පෙනෙන භාග්‍යවතුන් වහන්සේ ඉදිරියේ ඔහු වන්දනාමාන කලේ නෑ ඒ බමුණො. නමුත් ගිහිල්ලා උන්වහන්සේගේ අර පැතිරුණ කීර්ති යශෝගුණරාවයත් එක්ක දැන් කතා බහ කරලා පැත්තකින් වාඩි වෙලා බණ අහන ගමන් අනිත් අයට කතාබහ කරන ගමන් හිමීට බැලුවා මහා පුරුෂ ලක්ෂණ තිස් දෙක. එතකොට බුදුරජාණන් වහන්සේ පද්මාසනයෙන් වැඩ ඉන්නෙ. සිරිපතුල සමව තියෙනවා. මැද කරත්ත රෝදය වගේ චක්‍ර ලක්ෂණය තියෙනවා. පා වල විලුඹ දිගයි. ඇඟිලි දිගයි, අත්වල ඇඟිලි දිගයි. හම රත්තරන් පාටයි, දූවිලි රඳෙන් නෑ. ශරීරය ඍජුයි බ්‍රහ්මයෙක්ගේ වගේ. හිමීට පාත් වෙලා බැලුවා පිට පිරිපුන්ව තියෙනවා. ඊටපස්සෙ මේ වගේ මස් පිහිටලා තියෙනවා. ඊටපස්සෙ දැක්කා කෙණ්ඩා, පා නවලා තියෙනකොට කෙණ්ඩා සිහින්ව තියෙනවා, ඒණි මුවෙක්ගෙ වගේ. ඒ වගේම උන්වහන්සේගේ නේත්‍රා දෙක නිල් පාටයි, දිගයි, මහතයි. ඒ වගේම උන්වහන්සේගේ දන්ත ධාතූන් වහන්සේලා භාග්‍යවතුන් වහන්සේ කතා කරනකොට පේන්න සැලැස්සුවා. දන්ත ධාතූන් වහන්සේලා උඩු ඇන්දෙ විස්සයි යටි ඇන්දෙ විස්සයි. ඒ අතර හිඩැස් නෑ, සුදු පාටට තිබෙනවා. සුදු රශ්මියක් විහිදිලා ගියා. ඊළඟට සිරස තිබුණා. ශරීරයේ රෝම කූප උඩු පැත්තට හැරිලා කැරකිලා නිල්වන් විදියට තියෙනවා, හැම දෙයක්ම දැක්කා මහා පුරුෂ ලක්ෂණ තිස්දෙක. උන්වහන්සේ කතා කරනකොට පුංචි වෙහෙසක්වත් දැනෙන්නෙ නැහැ. සීහ හනු, සිංහයෙක්ගේ වගේ ඉදිරි කය තියෙනවා. මේ විදියට මහා පුරුෂ ලක්ෂණ දැක්කා. හැබැයි පුරුෂ ලක්ෂණ දෙකක් දැක්කෙ නෑ. ඒ තමයි රන්කෙමියක බහාලූ පරිද්දෙන් තියෙන පුරුෂ නිමිත්තත් ඒ වගේම පහූත ජිව්හ, පුළුල් වූ දිවත් දුටුවේ නෑ. ඒ ගැන පැහැදුන් නෑ. මේ දෙක තියෙනවාද නැද්ද කියලා සැකයක් ඉපදුනා. භාග්‍යවතුන් වහන්සේ දැකලා ඍද්ධියක් ප්‍රාතිහාර්යයක් පෑවා සාමාන්‍යයෙන් සළුවකින් එහා, එහෙම නැත්නම් අඩ අඳුරේ කෙනෙක්ගේ පේනවා වගේ සළුවකින් එහා පේනවා වගේ ඒ වගේ ශ්‍රේෂ්ට මංගල හස්තියෙක්ගෙ, ශ්‍රේෂ්ට වෘෂභ රාජයෙක්ගේ ඒ පුරුෂ නිමිත්ත ශරීරය ඇතුලට කිඳා බැහැලා තියෙනවා වගේ ඒ තියෙන කෝසොහිත වත්තගුය්හ දුටුවා. දිව එළියට උන්වහන්සේ එළියට දාලා කන් සිදුරු පිරිමැද්දා, නාස් සිදුරු පිරිමැද්දා. නළල දිවෙන් වැහුවා. ඒක ඍද්ධියකින් පේන්න සැලැස්සුවා. ඒක ඍද්ධියකින් භාග්‍යවතුන් වහන්සේ පේන්න සැලැස්සුවෙ.

ඉතින් ඊට කලින් දැන් මේ පුරුෂ ලක්ෂණ තිහක් දැකලා දෙකක් දැක්කෙ නෑනෙ. ඒ වෙලාවේ අහනවා බ්‍රහ්මායු බ්‍රාහ්මණයා යෙ මෙ ද්වත්තිං සාති සුතා මහාපුරුෂ ලක්ඛණා ද්වෙ තෙසන්න පස්සාමි භූතො කායස්මිං ගෝතමං, මේක හිතන්නෑ අහනවා කෙලින්ම. මහා පුරුෂ ලක්ෂණ තිස් දෙකක් තියෙනවා, මම තිහක් දැක්කා ඔබගේ. දෙකක් පේන් නෑ, කච්චි කොසො හිතං භූතො වත්තගුය්හං නරුත්තම, නාරි සහනාම සහුව්‍යා කච්චි දිව්වානරස්සිකා, ඔබට කෝසොහිත වත්තගුය්හ තියෙනවාද, ඒ වගේම පහූත ජිව්හ කියන ඒ ලක්ෂණය තියෙනවාද. කච්චි පහූත ජිව්හෝසී යකා තඤ්ජානියාමසේ නින්නාම යේ තං තනුකං කංකං විනයනූසේ, මගේ සැකය දුරු කරන්න. ඊටපස්සෙ කියනවා දිට්ඨදම්ම හිතත්තාය සම්පරාය සුඛායච කතාව කාසා පුච්ඡෙම යං කිඤ්චි අභිපත්තයන්ති, අප විසින් කිසියම් දෙයක් පතන ලද්දේද, ඒ සඳහා අවකාශ ලබා ඇති අපි මෙලොව හිතසුව පිණිසත්, පරලොව හිතසුව පිණිසත් පවතින දේ ගැන අසන්නෙමු. ඔබ අපට දහම් දේශනා කරනවා නම් මෙලොවත් පරලොවත් හිතසුව පිණිස පවතින දේ තමයි අපි අහන්න කැමැති ඔබෙන්. එතකොට බුදුරජාණන් වහන්සේ ඍද්ධි ප්‍රාතිහාර්යයෙන් කෝසොහිත වත්තගුය්හත් පහූත ජිව්හාත් පේන්න සැලැස්සුවා. ඊටපස්සෙ එය දැකලා ගොඩාක් සතුටට පත්වූ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා හට භාග්‍යවතුන් වහන්සේ වදාළා යෙ තෙ ද්වත්තිංසානිසුතා මහා පුරුෂ ලක්ඛණා සබ්බෙ තේ මම කායස්මිං මාතෙ කංකාසු බ්‍රාහ්මණ, මහා පුරුෂ ලක්ෂණ තිස් දෙකක්ම නුඹ ඇසුවා නම් ඒ පුරුෂ ලක්ෂණ තිස් දෙකම භාග්‍යවතුන් වහන්සේ ළඟ තියෙනවා. සැක කරන්න එපා බ්‍රාහ්මණය. අභිඤ්ඤෙය්‍යං අභිඤ්ඤාතං භාවේතබ්බංච භාවිතං පහාතබ්බං පහීණං මෙ තස්මා බුද්ධොස්මි බ්‍රාහ්මණ. අවබෝධ කරන්න ඕන දේ විශිෂ්ට ඥාණයෙන් අවබෝධ කලා. ඒ වගේම වඩන්න ඕන ආර්ය අෂ්ටාංගික මාර්ගය වැඩුවා. ප්‍රහීණ කළ යුතු තෘෂ්ණාව සම්පූර්ණයෙන් ප්‍රහාණය කලා. ඒ කෙනාට තමයි බුද්ධ කියන්නෙ. මම ගැන බුදුවරයෙක් විදියට දැනගන්න කිව්වා. දිට්ඨධම්ම හිතත්තාය සම්පරාය සුඛායච කතාවකාසො පුච්ඡස්සො යං කිඤ්චි අභිපත්තිතන්ති. ඔබ යමක් කැමැති නම් මෙලොව හෝ පරලොව හෝ යහපත පිණිස පවතින දේ දැනගන්න. මං ඔබට සම්පූර්ණයෙන්ම ඒකට අවස්ථාව දෙනවා. මෙහෙම කියපු ගමන් ගොඩාක් සතුටට පත්වුනා බ්‍රහ්මායු බ්‍රාහ්මණයා. පත්වෙලා දැන් බ්‍රහ්මායු බ්‍රාහ්මණයා කල්පනා කරනවා, දැන් මෙලොව පරලොව ඕන එකක් අහන්න දැන් ශ්‍රමණ භවත් ගෞතමයන් මට දැන් අවසර දුන්නා, මොකක්ද මම

අහන්නෙ දැන් කියලා හිතනකොට හිතුනා මේ අනිත් අයත් මෙලොව ජීවිතයේ යහපත දියුණුව පිණිස පවතින දේ ඇවිල්ලා මගෙන් අහන්නෙ. මං ඒවට උත්තර දෙනවා. එහෙම නෙවෙයි, මං අහන්න ඕන පරලොව වශයෙන් යහපත පවතින දේ. කතං බො බ්‍රාහ්මණො හොති කතං භවති වේදගෝ තෙවිජ්ජා බො කතං හොති සොත්ථියො කිඤ්චි වුච්ඡති, කියනවා භවතාණෙනි, ශ්‍රේෂ්ට තැනැත්ත, බ්‍රාහ්මණයා කියන්නෙ කොහොමද? දැනුමෙන් කෙළවරට පත්වුනා වේදගූ කියන්නෙ කුමක් ද? කොහොමද, ඒ වගේම ලොව්තුරු විද්‍යාවත් තුන් අයුරකින් සාක්ෂාත් කිරීම වශයෙන් තේවිජ්ජ කියන දේ යෙදෙන්නෙ කොහොමද, සෙත සළසා ගත් කෙනා වශයෙන් සොත්ථියා යැයි කියනු ලබන්නේ කොහොමද. අරහං බො කතං බොති කතං භවති කේවලි මුනිච්ඡ බො කතං හොති බුද්ධො කින්ති පවුච්ඡති, භවතාණෙනි නිකෙලෙස් බවට පත්වූ කෙනා වශයෙන් අරහං කියන්නෙ කොහොමද. නිවන් මග සම්පූර්ණ කල කෙනා වශයෙන් කේවලී කියන්නෙ කොහොමද. මුණිදහමට පත් වූ කෙනා වශයෙන් මුණී කියන්නෙ කොහොමද. අවබෝධයට ලත් කෙනා වශයෙන් බුද්ධ යැයි කියන්නෙ කොහොමද? එවිට භාග්‍යවතුන් වහන්සේ ගාථාවලින් උත්තර දුන්නා. පුබ්බේ නිවාසං යො වේදෙ සග්ගා පායඤ්චි පස්සති අථො ජාතික්කයං පත්තො අභිඤ්ඤා වොසිතො මුණි, යම්කිසි කෙනෙක් පෙර ජීවිත දකිනවා නම්, චුතිය උපත දකිනවානම් ඒ වගේම විශිෂ්ට ඥාණයෙන් අවබෝධයට පත්වෙලා ඉපදෙන මැරෙන සංසාරය කෙළවර කලා නම්, චිත්තං විසුද්ධං ජානාති මුත්තං රාගේසි සබ්බසො පහීණ ජාති මරණො බ්‍රහ්මචරියයස්ස කේවලී පාරගූ සබ්බ ධම්මානං බුද්ධො තාදීපවුච්ඡති. සර්වප්‍රකාරයෙන්ම රාගයෙන් නිදහස් වූ විමුක්තියට පත් පිරිසිදු සිත් ගැන දන්නවා නම් ඉපදෙන මැරෙන සසර ප්‍රහාණය වුනා නම් පරිපූර්ණ බඹසරකින් යුක්ත නම් සියලු ධර්මයන්ගෙන් එතෙරට ගියා නම් ආන්න ඒ තැනැත්තා අටලෝ දහමින් නොසැලෙන බුද්ධ කියන උත්තමයෙක් බවට පත්වෙනවා, කියලා අර අහපු ප්‍රශ්න වලට උත්තර දුන්නා. මේ ප්‍රශ්න වලට උත්තර දුන්නු ගමන් ප්‍රීතිය ඇතිවෙලා හුනස්නෙන් නැගිටලා බ්‍රහ්මායු බ්‍රාහ්මණයා උතුරු සළුව එකපැත්තකට දාගෙන බුදුරජාණන් වහන්සේගේ ශ්‍රීපාද පද්මය ළඟ නළල බිම තියලා දණ්ඩ නමස්කාර කලා. අර අවුරුදු එකසිය විස්සක මහා බ්‍රාහ්මණයා, ශ්‍රී පාදය මුවින් සිඹින්න ගත්තා. ඒ වගේම දෑතින් ඒ රන්වන් සිරිපා ස්පර්ශ කරන්න ගත්තා, පිරිමදින්න ගත්තා. භවත් ගෞතමයන් වහන්ස, මම බ්‍රහ්මායු. මම බ්‍රහ්මායු, ස්වාමීනී මම බ්‍රහ්මායු කියලා ශ්‍රී පාදයේ නළල තියාගෙන ඉඹ ඉඹ ශ්‍රී පාද පද්මය පිරිමදිනවා.

එතකොට මිනිස්සුන්ට ඇතිවුනා කියනවා අච්චරියං බො අච්චරියං බො, ආශ්චර්යයි භවත්නි, ආශ්චර්යයි. බලන්න මේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේගේ ආනුභාවය. මෙච්චර මේ ප්‍රදේශයේ මහා ප්‍රසිද්ධ අවුරුදු එකසිය විස්සක් ඇති වේදයේ පරතෙරට පත් සියලු බමුණන්ගේ ආචාර්‍ය වූ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා භාග්‍යවතුන් වහන්සේගේ සිරිපා ළඟ වැඳවැටිලා නෙව. බ්‍රහ්මායු බ්‍රාහ්මණයා හට භාග්‍යවතුන් වහන්සේ වදාළා හරි හරි හරි නැගිටින්න, හරි නැගිටින්න. බ්‍රහ්මායු බ්‍රාහ්මණය නැගිටින්න. ඔබගේ සිත මා කෙරෙහි පහන්ව ගියා නේද. ගොඩාක් මා ගැන ඔබේ හිතේ පැහැදීම ඇතිවුනා නේද. බ්‍රාහ්මණය නැගිටින්න කියලා බුදුරජාණන් වහන්සේ දාන කතා, සීල කතා, සග්ග කතා, කාමං ආදීනවං, කාමයේ ආදීනව ගැන ඊළඟට ඕකාරං සංකිලේසං, ඒවගෙන් හිත පිරිසිදු වෙලා යනහැටි, කෙලෙස් වලින් නික්මෙන හැටි ආදී අනුපිළිවෙල කතාව කලා. කතාව කරලා ඒ බ්‍රහ්මායු බ්‍රාහ්මණයාගේ සිත මෘදු වුනාද, නීවරණ රහිත වුනාද, ඔද වැඩුණු සිතක්, ප්‍රසන්න වූ සිතක් බවට පත්වුනා ද ආන්න ඒ වෙලාවේ බුදුරජාණන් වහන්සේලාගේ සාමුක්කංසික දේශනාව කලා. සාමාන්‍යයෙන් බුදුරජාණන් වහන්සේලාගේ සාමුක්කංසික දේශනාව කියලා කියන්නෙ චතුරාර්ය සත්‍යය ධර්මය ප්‍රකාශිත දහම් පරියායට. ඒ ධර්මය දේශනා කරනකොට දුක්ඛ, සමුදය, නිරෝධ, මාර්ගය යන චතුරාර්ය සත්‍යය වදාළා. කිළුටු නැති සුදු වස්ත්‍රයක් මැනැවින් සායම් කලා වගේ ඒ ආකාරයෙන් බ්‍රහ්මායු බ්‍රාහ්මණයා හට ඒ ආසනයේදීම යං කිඤ්චි සමුදය ධම්මං සබ්බන්තං නිරෝධ ධම්මං කියලා යමක් හේතූන්ගෙන් හටගන්නවාද ඒ සියල්ල නිරුද්ධ වී යන ස්වභාවයෙන් යුක්තයි කියලා, කෙලෙස් රහිත වූ, අවිද්‍යා මලකඩ රහිත වූ දහම් ඇස පහළ වුනා. ඒ කියන්නෙ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා ඒකෙන්ම සෝතාපන්න බවට පත්වුනා. දැකගත් ධර්මයෙන් යුතු ධර්මයට පැමිණි, ධර්මය දැනගත්, ධර්මයේ බැසගත්, සැකයෙන් එතෙර වූ, කෙසේද කෙසේද යන ස්වභාවයෙන් එතෙරවූ, විශාරද බවට පත් වූ, බාහිර උපකාරයක් නැතිව ශාස්තෘ ශාසනයේ දියුණුවක් ලබන්න සුදුසු වූ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා ශාස්තෘන් වහන්සේගෙන් අහනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස ඉතා සුන්දරයි නෙව ඔය බණ පදටික. ඉතා සුන්දරයි නෙව. මට නම් දැනුනේ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස යටට හැරවිලා තිබ්බ දෙයක් උඩට හැරෙව්වා වගේ. සැඟවී තිබ්බ දෙයක් විවෘත කරලා පෙන්නුවා වගේ. මංමුලාවූ කෙනෙකුට පාර පෙන්නුවා වගේ. අඳුරේ සිටින කෙනෙකුට රූප දකින්නට තෙල් පහනක් දැල්වුවා වගේ. ඔය විදියට භවත් ගෞතමයන් වහන්සේ නොයෙක් ආකාරයෙන් මට ශ්‍රී සද්ධර්මය

වදාළා. ඉතින් මාත් පින්වත් ගෞතමයන් වහන්සේව සරණ යනවා. ශ්‍රී සද්ධර්මය සරණ යනවා. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා. දිවි තිබෙන තුරාවට තෙරුවන් සරණ ගිය උපාසකයෙක් විදියට මාව පිළිගන්නා සේක්වා කියලා වැඳ වැටුනා. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස හෙට දිනයේ භික්ෂු සංඝයා සමඟ මාගේ නිවසට දානයට වඩින සේක්වා. ආරාධනා කලා. භාග්‍යවතුන් වහන්සේ නිහඬ බවින් ඉවසා වදාළා. එවිට බ්‍රහ්මායු බ්‍රාහ්මණයා භාග්‍යවතුන් වහන්සේ තම ඇරයුම ඉවසා වදාළ බව දැනගෙන හුනස්නෙන් නැගිටලා ආදරයෙන් වන්දනා කරලා පැදකුණු කරලා පිටත් වුනා. දැන් ආවෙ කොහොමද, යන්නෙ කොහොමද. වදින්නෙවත් නැතිව ආවෙ. දැන් යන්නෙ වැඳලා පැදකුණු කරලා. ඊටපස්සෙ දානෙ හදලා පහුවදා අර දානෙට කල් දැන්නුවා. සිවුරු හැඳ පොරවාගෙන සංඝයා සමඟ භාග්‍යවතුන් වහන්සේ දානෙට වැඩම කලා. දවස් හතක් ගෙදර දන් දුන්නා. සත්දින ඇවෑමෙන් භාග්‍යවතුන් වහන්සේ ඒ මිථිලා නුවරින් වැඩම කලා. බුදුරජාණන් වහන්සේ වැඩම කරලා කෙටි කාලෙකින්, දවසකින් දෙකකින් වගේ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා අභාවප්‍රාප්ත වුනා, කළුරිය කලා. එකල්හි බොහෝ භික්ෂූන් වහන්සේලා භාග්‍යවතුන් වහන්සේගෙන් අහනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අර බ්‍රහ්මායු බ්‍රාහ්මණයා භාග්‍යවතුන් වහන්සේ කෙරෙහි බොහෝ ප්‍රසන්න වුනා, ධර්මය ඇසුවා, දන් දුන්නා. ඔහු මියගියා, කොහෙද උපන්නේ භාග්‍යවතුන් වහන්සේ ඔහු, කොයි ආකාරයේ උපතක්ද ලැබුනේ ඔහුට. මරණින් මතු ජීවිතය කොයි ආකාර වුනාද. පින්වත් මහණෙනි, බ්‍රහ්මායු බ්‍රාහ්මණයා බුද්ධිමත්. ධම්මානුධම්ම ප්‍රතිපදාවට පැමිණ හිටියා. ධර්මය හේතු කරගෙන මාව වෙහෙසෙව්වෙ නෑ. පින්වත් මහණෙනි, බ්‍රහ්මායු බ්‍රාහ්මණයා ඕරම්භාගිය සංයෝජන පහ ක්ෂය කොට ශුද්ධාවාස බ්‍රහ්මලෝකෙ උපන්නා. එම ලොවින් මෙලොවට පෙරලා නොඑන ස්වභාවයෙන් යුතු අනාගාමී කෙනෙක් වුනේ. එහිදීම පිරිනිවන් පානවා. ඉතින් භාග්‍යවතුන් වහන්සේ මේ දේශනාව වදාළේ සංඝයා සතුටින් පිළිගත්තා. එතකොට බ්‍රහ්මායු බ්‍රාහ්මණයා අනාගාමී වූ කෙනෙක් විදියට තමයි කළුරිය කලේ. එතකොට බලන්න මේ පිනේ ස්වභාවය. කෙනෙක්ගේ පිනක ස්වභාවය බලන්න. පුදුම සහගතයි. දැන් අවුරුදු එකසිය විස්සයි. බුදුරජාණන් වහන්සේ තව දින කිහිපයක් ප්‍රමාද වුනා නම්, භාග්‍යවතුන් වහන්සේ වඩින්න කලින් බ්‍රහ්මායු බ්‍රාහ්මණයා මැරෙනවා. එහෙනම් ධර්මාවබෝධයක් නෑ. එහෙනම් බ්‍රහ්මායු බ්‍රාහ්මණයා අවුරුදු එකසිය දහනවයෙන් මැරුණා නම්, දැන් මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු අසූවයි, අනූවයි, සීයයි, එකසිය දහයයි, එකසිය පහළොවයි,

උපරිමනෙ. එකසිය විස්සක් හිටියානෙ. එතකොට බ්‍රහ්මායු බ්‍රාහ්මණයාට බුදුරජාණන් වහන්සේ මුණගැහුනෙ අවුරුදු එකසිය විස්සක් ගිය තැන. එතකොට ආයුෂ කියන එක කොච්චර උපකාරයිද කියලා බලන්න. බුදුරජාණන් වහන්සේ වඩිනකල් ආයුෂ රැඳිච්ච එක. පුදුම සහගතයි. ඒකනෙ දැන් දන් දීමෙන්, වෙහෙර විහාර කරවීමෙන්, ඊළඟට දිරාගිය ගරාවැටුනු තැන් පිළිසකර කිරීමෙන්, එහෙම තමයි ආයුෂ වැඩි වෙන්නෙ. ප්‍රාණඝාතය නොකිරීමෙන්, ඒ පින මොහු තුළ තිබ්බ නිසා නේද මේ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා ළඟ අවුරුදු එකසිය විස්සක් ගිය තැන බුදුරජාණන් වහන්සේ මුණගැහුනෙ. මොහු කලින් මැරුනා නම් අවුරුදු එකසිය දහයෙන් මැරුණා නම් ඒත් බුදුරජාණන් වහන්සේ මුණ ගැහෙන් නෑ. අවුරුදු එකසිය පහළොවෙන් මැරුණා නම් බුදුරජාණන් වහන්සේ මුණ ගැහෙන් නෑ. අවුරුදු එකසිය විස්සෙන් මැරුණා නම් දවස් කීපයකට කලින් ඒත් බුදුරජාණන් වහන්සේ නෑ, බුදුරජාණන් වහන්සේට දින හතක් දන් දීලා ඉන් අනතුරුව දවසකින් දෙකකින් ඔහු මියගියෙ. පුදුම සහගතයි. ඊළඟට මේකෙදින් මට තව කාරණාවක් තේරුනා, මේ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා වේදවේදාන්තරයේ පරතෙරට පත්වෙලා වේද මන්ත්‍ර මතුර මතුරා වේද දර්ශනය, බ්‍රාහ්මණ දර්ශණය කරපින්නාගෙන හිටපු බමුණෙක්නෙ. මිත්‍යා දෘෂ්ටියනෙ. සංසාරෙ පොදි බැඳගෙන හිටපු බ්‍රාහ්මණයෙක්නෙ. නමුත් ඔහු තුළ සැඟවිලා තිබ්බා අවුරුදු එකසිය විස්සක් උඩට ආපු නැති දෙයක් සැඟවිලා තිබ්බා. ඒ තමයි යෝනිසොමනසිකාරය. අවුරුදු එකසිය විස්සක් සැඟවිලා තිබ්බා යොනිසොමනසිකාරය. බුදුරජාණන් වහන්සේගේ බුදු බණ පදයට විකසිත වුනා යොනිසොමනසිකාරය. ඒ යොනිසොමනසිකාරය විකසිත වෙච්චි තැන අවුරුදු එකසිය විස්සක් කරපු කර්ම පැරදුනු හැටි බලන්න. සංසාරයක කර්ම පැරදුනු හැටි බලන්න. යොනිසොමනසිකාරය කියන එක බුදු කෙනෙක්ගේ ධර්මය ඉදිරියේ හදවත ඒ කෙරෙහි යොමු කරගෙන ඒ ධර්මය විමසන්න තරම් ඒ තියෙන හැකියාවේ ආනුභාවය බලන්න. මහා ජරා ගොඩක, මහා වසුරු ගොඩක, මහා කුණු කාණුවක සැඟවී තිබෙන මාණික්‍යයක් වගේ දෙයක් තමයි යොනිසොමනසිකාරය. බුදුවරුන්ගේ ධර්මයෙන් මතුවෙනවා. මතුවෙලා ඒ මැණික ඔපදාලා ශුද්ධ වෙලා යනවා. කුණු වලට අයිති නෑ ඒක. ඒ නිසා ඔබගේ ජීවිතේත් දැන් මේ අවුරුදු එකසිය විස්සක් මිත්‍යා දෘෂ්ටියත් එක්ක හිටපු කෙනෙක්. ඒ සම්මා දිට්ඨිය නෙවෙයි. අවුරුදු එකසිය විස්සක් බමුණු දහමත් එක්ක හිටපු කෙනෙක්. අවුරුදු එකසිය විස්සක් මන්ත්‍ර සජ්ඣායනාවෙන් හිටපු කෙනෙක්. නමුත් ඔහු තුළ තිබුනා යහපත් කෙනා

යහපත් විදියට හඳුනාගන්න, අයහපත් කෙනා අයහපත් විදියට හඳුනාගන්න ස්වභාවයක්. ඔවුන් ඉගෙන ගත්තු බමුණු දහමින්ම ඔවුන්ට ආවා යම්කිසි පහසුවක්. ඒ තමයි මහාපුරුෂ ලක්ෂණ විද්‍යාව. ඒ පුරුෂ ලක්ෂණ විද්‍යාව මහ හරසරින් කටපාඩම් කරගෙන ලෝකයේ කිසිවෙකුත් තුළ නොදැකපු තමන් පාඩම් කරගත්තු දේ ප්‍රායෝගිකව බුදුරජාණන් වහන්සේ තුළ පෙනෙනකොට ඔවුන්ගේ දෘෂ්ටි සුණුවිසුණු වෙලා ගියා. බුදුරාජාණන් වහන්සේගේ බණ පද වලින් ඔවුන්ගේ මනසේ දෘෂ්ටි සුන්නද්ධූලි වී ගියා. කෙලෙස් ගඟ වියළී ගියා. අවුරුදු එකසිය විස්සේ මරණය පෙනි පෙනී තිබෙන අයගේ පවා සක්කාය දිට්ඨි විචිකිච්ඡා සීලබ්බත පරාමාස කාමරාග පටිග කියන සංයෝජන පවා ප්‍රහාණය වුනා. අනාගාමී වුනා. අනාගාමී ශුද්ධාවාස බඹලොව පිරිනිවන් පාන මහෝත්තමයන් බවට එහෙ පත්කලා මගේ බුදුරජාණන් වහන්සේ. ඔබගේ ජීවිත වලත් තියෙන්න පුලුවන්. ඔබට තව අවුරුදු එකසිය විස්සක් නෑ ඔබට. ඔබ තව පුංචි කාලයයි මනුස්ස ලෝකෙ ගත කරලා තියෙන්නෙ. ඉන්නත් තියෙන්නෙ ටික කාලයයි. එතකොට අවුරුදු පහ දහයක් වෙන්න පුලුවන්, පහළොවක් වෙන්න පුලුවන්, විස්සක් වෙන්න පුලුවන්, තිහක් වෙන්න පුලුවන්, හතලිහක් වෙන්න පුලුවන්, පනහක් වෙන්න පුලුවන්, හැටක් වෙන්න පුලුවන්, හැත්තෑවක් වෙන්න පුලුවන්, ඔබ නොමඟ ගිහින් සිටින්න පුලුවන්, ඔබට වැරදිලා තියෙන්න පුලුවන්, ඔබගේ ජීවිතය මොකක්දෝ වෙලා තියෙන්න පුලුවන්. නමුත් එය අදාළ නෑ. මේ ඉන්නෙ තථාගතයන් වහන්සේ නමක් ලෝකයේ පහළ වෙලා. මේන්න තථාගතයන් වහන්සේ නමකගේ ශ්‍රී සද්ධර්මය ඔබට ඇහෙනවා. ඒ බුදුරජාණන් වහන්සේගේ ධර්මය ඇහෙන වෙලාවේ අර ඇතුලේ වැරදුන, නොමග ගිය හිතාගන්න බැරි තරම් හිත වික්ෂිප්ත වුන ජීවිතය ඇතුලේ කුණු කාණුවේ තියෙන යෝනිසොමනසිකාරය කියන එක පෑදෙන්න ගන්නවා බණ ඇහෙනකොට. ඒක විකසිත වෙන්නේ බණ පදයකට විතරයි. බුදු කෙනෙකුගේ ධර්මයට විතරයි යොනිසොමනසිකාරය කියන එක විකසිත වෙන්නෙ. පැහැදිලි ද, මේක තේරුම් ගන්න. ඒ නිසා හොඳට ධර්මය අහන්න. ධර්මය අහද්දින් අහද්දින් හිතේ ඇතිවෙන පැහැදීම තමයි ආකාරවතී ශ්‍රද්ධාවට එන්නෙ. ධර්මය අහද්දින් අහද්දින් හිතේ ඇතිවෙන පැහැදීම තමයි, ඒ ශ්‍රද්ධාව තමයි ඔබව නිවනට පමුණුවන්නෙ. බණ පදයක් නම් අහන්නම ඕන. බණ පදයක් නම් මේ සවන්පත් වලට ශ්‍රවණය වෙන්නම ඕන. ඒ බණ පද නම් කන් යොමු කරගෙන අහන්නම ඕන. ඒ බණ පද තුළින් දකින, ඒ බණ පද තුළින් දැනෙන බුදුරජාණන් වහන්සේ ගැන මහත් සේ සිත පහන් කරගන්න ඕන. ඒ විදියට තමයි බුද්ධ

ශාසනයේ පිහිට පිළිසරණ ගන්නෙ. එතකොට පින්වතුනි මේ කතාවෙනුත් තේරෙනවා, මේ සිද්ධියෙනුත් තේරෙනවා ජීවිතේ දැන්, බ්‍රහ්මායු බ්‍රාහ්මණයා සතර සතිපට්ඨානය වඩ වඩා, එහෙම නැත්නම් සත්තිස් බෝධිපාක්ෂික ධර්ම වඩ වඩා බුදු කෙනෙක්ගෙන් බණ අහන්න සූදානම් වෙලා හිටපු කෙනෙක් නෙවෙයි. ඔහු බමුණු දහමත් එක්කයි හිටියේ අවුරුදු එකසිය විස්සක්. හැබැයි ඔහුට මෙය යහපත්, මෙය අයහපත් කියන තේරුම තිබ්බා. ඊළඟට බලන්න මෙලොවක් පරලොවක් විශ්වාස කලා. ඔහු තුළ ඒක තිබ්බා. මෙලොවක් පරලොවක් විශ්වාස කලා. ඔහුගේ දහම වැරදුනාට. ඊටපස්සෙ ඔහුට ඕන වුනා පරලොව කොහොමද යහපත සළසගන්නෙ. දැන් අද තියෙන එක තමයි බුද්ධාගමේ කිව්වත් මෙලොවක් පරලොවක් විශ්වාස කරන් නෑනෙ. මේ මිනිස්සු කටයුතු කරන විදියට බැලුවට පස්සෙ මැරෙන් නෑ වගේ මිනිස්සු ඉන්නෙ. ඊටපස්සෙ මේ මිනිස්සු කටයුතු කරන ඒවත් එක්ක බලනකොට මැරුණට පස්සෙ කොහේ යයි ද. එතකොට ඒකෙන් තේරෙනවා මිනිස්සු පරලොවක් විශ්වාස කරන් නෑ. බ්‍රහ්මායු බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේගෙන් ප්‍රශ්න අහද්දි ස්වාමීනී පරලොව යහපත පිණිස කොහොමද කියලා පරලොව යහපත පිණිසයි කරුණු විමසුවෙ. ඒ නිසා ඇත්තටම මේ ජීවිතේ යහපත පිණිස මේ ජීවිතේ දියුණුව පිණිස කාලා බීලා ඇඳලා ඉන්න ඕනතරම් හැම තැනම ශිල්ප ශාස්ත්‍ර ශාලා තිබෙනවා. ඔය ළමයි ඉගෙන ගන්න ස්කෝල වල උගන්වන්නෙ මෙලොව ජීවිතය යහපත පිණිස පවතින මේ ජීවිතයේ සැපය පිණිස පවතින ශිල්ප දෙනවා. පත්තරයක් ගත්තත්, පොතක් පතක් ගත්තත් ටීවී එක නාට්‍ය චිත්‍රපට ගත්තත් මේ ජීවිතේම සැපය පිළිබඳව ඒ අය වගකියනවා. සැප විඳපියව්, සැප විඳපියව් කියලා. ඊළඟට ලැබෙන යන්ත්‍ර උපකරණ ඒවගෙන් යාන වාහන ගෙවල් දොරවල් වලින් මේ ජීවිතේ සැප විඳපියව්, විඳපියව් කියනවා. දැන් මං අහන්නෙ මේකයි, පරලොව කොහොමද සැපයක් ලබන්නෙ. නුඹලා පරලොව යනකොට මොනවාද රැගෙන යන්නෙ. පරලොව දියුණුව කොහොමද සැලසෙන්නෙ. පරලොව ආලෝකය කොහොමද ඇතිකරගන්නෙ. පරලොව කොහොමද දුක් විඳින් නැතිව ඉන්නෙ. ඊළඟට පරලොව කොහොමද සුගතිගාමී කරගන්නෙ. හිතුවෙ නැද්ද මේවා, සිතන් නැද්ද මේවා, සිතිය යුතු නැද්ද මේවා? මෙලොවත් පරලොවත්, මේ ජීවිතයම ගැන. මේ ජීවිතයේම යෙදිලා, මේ ජීවිතයේම කන බොන ඒවයි, මේ ජීවිතයේම ප්‍රශ්න විසඳගන්න ඒවයිම හිත හිතා ඉන්නවා. පරලොවක් ගැන නැද්ද හිතන්නෙ. අපි මේ ජීවිතේ ගන්න තීරණය තමයි පරලොවට එන්නෙ. අපි මේ ජීවිතේ කටයුතු කරන විදිය

තමයි පරලොවට යන්නෙ. අපි මේ ජීවිතේ හිතන විදිය තමයි පරලොවට යන්නෙ. එතකොට පරලෝකයක් ගැන හිතන්නෙ නැද්ද. ඔබගේ චිත්ත සංකල්පනා බාහිර මිනිස්සුත් එක්ක ඔක්කොමගෙම එක වගේ තිබ්බා නම් ඔබ කොහොමද මිනිස්සු අතර විශේෂ කෙනෙක් වෙන්නෙ. මැරෙන මිනිස්සුන්ගෙන් මහපොළොව වගේ ප්‍රමාණයක් සතර අපායෙ ගිහිල්ලා නිය සිලට ගත්තු පස් පිඩ වාගේ ප්‍රමාණයක් නම් ආපහු මනුස්සයෙක් හෝ ආපහු දෙවියෙක් හෝ වෙන්නෙ, එහෙනම් මේ ඔබ ඇසුරු කරන සමාජයේ අන් අයට නොතිබෙන ශ්‍රේෂ්ට විශේෂ ගුණ ඔබට තිබ්බොත් නෙවෙයි ද ඔබ ඒ අය අතරින් වෙනස් වෙලා ඔබ දෙවියන් අතරට යන්නෙ, ඔබ මිනිස්සුන් අතරට එන්නෙ. මිනිස්සුන් අතරට ඒම ගැන නම් ඉදිරියේදී ප්‍රශංසා කොට යුතු නෑ. සුගතියක් නිසා හොඳයි. නමුත් ඉදිරියට ගොඩාක් මව්පියන් නොහඳුනන, පින් පව් කතා නොකරන, කුසල් අකුසල් ගැන කතා නොකරන අමූතු ලෝකයක් අනාගතයේ බිහිවෙන්නෙ. ඒ නිසා හොඳම දේ ධර්මය ඇහෙන, ධර්මය කියන, ධර්මය අවබෝධ කරගත්ත, සත්පුරුෂයන් සිටින සුගතිය නම් වූ දෙව්ලොව යම්කිසි කෙනෙක් උපදිනවා නම් ඔවුන්ට ඒ ධර්මයේ පිහිට එතනදින් හරි ලබාගන්න පුලුවන්. කෙසේ හෝ මේ කරුණු කාරණා වලින් තේරුම් ගන්න මේ බ්‍රහ්මායු බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ සරණ ගිය නිසා කොයිතරම් පිහිටක් ලැබුවාද කියලා බලන්න. ඒ නිසා ඔබත්, හැබැයි බලන්න සුදුසුකම් තිබ්බා. ඒ කියන්නෙ බුදුරජාණන් වහන්සේ මුණගැහෙනකොට යහපත් දේ අයහපත් දේ තේරුම්ගන්න හැකියාවක් ඇතුලෙ තිබ්බා. මෙලොව පරලොව විශ්වාස කරන ස්වභාවයක් ඇතුලෙ තිබ්බා. ඒ නිසා ඔහුට අතිශයින් පහසු වුනා ඒ ධර්මය අල්ලන්න. ඒ නිසා ඔබ ධර්මය අල්ලන්න, ධර්මයේ පිහිට ගන්න සුදුස්සෙක් වෙන්නෙ. ඒකයි ලෞකික සම්මා දිට්ඨිය පිහිටුවා ගත යුත්තේ. හොඳ නරක, යහපත අයහපත, කර්ම විපාක පිළිබඳව විශ්වාසය ඔබට තියෙන්න ඕන. මෙලොවක් පරලොවක් විශ්වාස කරන්න ඕන. බුදුරජාණන් වහන්සේ තුන් ලෝකයටම ශ්‍රේෂ්ට බව ඔබ විශ්වාස කරන්න ඕන. ඒ නිසා ඒවා තමයි ඔබව සුදුස්සෙක් කරන්නෙ නිවනට. ඒ නිසා ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ යන්න දිවි තිබෙන තුරු නිවන් දකිනතුරු. ඒ ශ්‍රී සද්ධර්මය සරණ යන්න දිවි තිබෙන තුරු නිවන් දකින තුරු. ඒ ආර්ය මහා සංඝරත්නය සරණ යන්න දිවි තිබෙන තුරු නිවන් දකින තුරු. ඊටපස්සෙ ඒ සරණින් හිත සැනසී සැනසී යනවා. බිය දුරුවෙලා යනවා. බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනා නරක ලෝකෙක උපදින් නෑ, බුදුරජාණන් වහන්සේ

කෙරෙහි ශ්‍රද්ධා මාත්‍රයක් ප්‍රේම මාත්‍රයක් තියෙන කෙනා දෙව්ලොව උපදිනවා. දුගතියේ උපදින් නෑ. ඒ පිහිට අපිට තියෙනවා. ජීවිතේ වෙන අඩුපාඩුකම් වෙන දෝෂ වැරදිච්චි තැන් ඒවා මිනිස්සුන්ට තියෙන්න පුලුවන්. ඒවා සසරේ යන සත්ත්වයාගේ සාංසාරික ස්වභා. නමුත් ඒ අතරේ කෙනෙක් බුදුරජාණන් වහන්සේ සරණ ගියොත් ධර්මය සරණ ගියොත් ආර්ය මහා සංඝරත්නය සරණ ගියොත් එයා ජීවිතේ විශේෂ දෙයක් උපද්දවගත්තා වෙනවා. හිතන්න එපා වැරදිච්ච ඒවා. හිතන්න එපා පරණ කුණු කන්දල්. හිතන්න එපා ඔබගේ ජීවිතේ නොමග ගිය දේවල්. මේවා නැවත නැවත හිතන්න, මට බුදුරජාණන් වහන්සේ සරණ යන්න ලැබුනා, ධර්මය සරණ යන්න ලැබුනා, සංඝරත්නය සරණ යන්න ලැබුනා කියලා ලැබිච්ච තිසරණය ගැනම හිතන්න. ඒ නිසා නිතර උදේ හවස සිහි කරන්න. මේ උතුම් තිසරණය, මේ උතුම් සම්බුදු සරණ මාව දුකින් නිදහස් කරත්වා කියලා.

ඉතින් ඒ සඳහා ඔබට උතුම් සම්බුදු සරණේ පිහිට ලැබේවා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. අද අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඉතාලියේ පදිංචි පින්වත් චානුක ශෙහාන් මහත්මයා, නිශානි අශාරා බිරිඳ, වත්සලා ප්‍රියදර්ශණී සහෝදරිය සහ මෙරට පවුලේ සියලු දෙනා. සියලු දෙවියෝ මේ පින්වතුන් ආරක්ෂා කරත්වා. මේ පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම මියපරලොව ගිය මාස හතරකට පෙර වත්සලා මහත්මියගේ පියාණන්ට සහ ඒ වගේම මෑණියන්ට පින් අනුමෝදන් කරනවා. මියපරලොව ගිය සුදුඅම්මාට, මාමාට, ලොකුතාත්තාට සහ වෙන්නප්පුවේ සුදුඅම්මාට පින් අනුමෝදන් වෙත්වා. මියපරලොව ගිය සියලු ඥාතීන් පරලොව සැපයට පත්වේවා. ඒ වගේම පරම පූජනීය ගුරු දෙවිඳුන්ට මේ පින් අනුමෝදන් වේවා. අපිට මේ යුගයේ ගෞතම බුද්ධ ශාසනයේ පිළිසරණ තිසරණයේ පිහිට ලැබුනේ ලොකු ස්වාමීන් වහන්සේ නිසා. මේ තරම් තිසරණයේ ආනුභාවය අපිට කියලා දුන්නේ අපේ ගුරු දෙවිඳු. ඒ නිසා පරමපූජනීය පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ පින් අනුමෝදන් වී නිදුක් වේවා නිරෝගී වේවා සුවපත් වේවා දීර්ඝායුෂ ලබත්වා. ඒ වගේම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු ගරුතර මහා සංඝරත්නයටත්, ඒ වගේම අනගාරිකා මෑණිවරුන්ට පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් අනුමෝදන් වී ධර්මාවබෝධය සැලසේවා. සුජීවත්ව සිටින මේ පින්වතුන්ගේ දෙමව්පියන් වන රෝහිණී මෑණියන්ට, බණ්ඩාර පියාණන්ට, නාලනී ඒකනායක මෑණියන්ට, අබේකෝන් පියාණන්ට, නයනජිත් මල්ලිට, කිරි අම්මාට, කිරි අත්තාට, ඒ වගේම ජයන්තා ලොකුඅම්මාට, කරුණාරත්න ලොකු

තාත්තාට, ටිරෝන් අයියාට සහ කුමුදු අක්කාට නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා. දරුවකු ලැබීමට සිටින මධු දියණියට ආශිර්වාද වේවා. සාලිත පුතාට, චතුරාණි දියණියට, අසන්ත පුතාට, සිඟිති දියණියට, චම්පා, සාගරිකා, අනුරාධා, ශ්‍රියානි, සුජාතා යන පින්වතුන්ට සෙත් වේවා. ඒ වගේම දැනට ඉතාලියේ පදිංචි චානුක ශෙහාන් මහත්මයාට, නිශානි අශාරා බිරිඳට, වත්සලා ප්‍රියදර්ශණී සහෝදරියට, හිරුන් ඒකනායක, අරුන් ඒකනායක යන සිඟිති පුතාලා දෙන්නාට නිදුක් නිරෝගී සුවපත් භාවයත්, ඒ වගේම ඒ ඇත්තන්ට ඉක්මණින්ම මව්බිමට පැමිණෙන්න අද ධර්ම දානයේ පින හේතුවාසනා වේවා. ඔබ අප කාටත් මව් දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන් සියලු දෙනාටත් මේ පින් අනුමෝදන් වී අපි සියලු දෙනාට උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගැනීම පිණිස මේ උතුම් සම්බුදු සරණේ පිහිට ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?app=desktop&v=tNFlRd6gQN4&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=78

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, කලාතුරකින් ලෝකෙට පහළ වෙන තථාගත අරහත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකගේ අසිරිමත් සම්බුදු සිරියේ ආනුභාවය අපි මේ දහම් වැඩසටහන තුළින් බොහෝ කාලයක් කතා කරන්නෙ. ඇත්තටම විටෙක ඒ බුදුරජාණන් වහන්සේගේ මේ ගුණ සමුදාය ගැන පුදුම හිතෙනවා.

දැන් මේ දහම් වැඩසටහන බොහෝ කාලයක් තිස්සේ කරගෙන යන්නෙ. මේ දහම් වැඩසටහන නතරකොට වෙනත් දහම් වැඩසටහනක් කරන්න සිතුනත් වෙලාවකට ලෝභ සිතෙනවා භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ ගුණකඳ කොයිතරම් තියෙනවාද කියලා. ඉතින් ඒ නිසා අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන අද දවසේ රූපවාහිනියෙනුත් ගුවන් විදුලියෙනුත් විකාශනය කරවන්නෙ ඔස්ට්‍රේලියාවේ සිඩ්නි නුවර පදිංචි පින්වත් සාමාවතී අබේසිංහ මහත්මිය ඇතුලු දූදරුවන්. මේ ඇත්තන් අද මේ උතුම් දහම් වැඩසටහනට දායකත්වය දරලා ධර්ම දානයෙන් අප්‍රමාණ පිනක් රැස් කරගන්නවා. ඉතින් ඒ පින ඔබට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා. ඒ සන්තෝෂයෙන් මේ ධර්මය ශ්‍රවණය කරන්නට ඕන. ඉතින් පින්වත්නි අපි මීට කලින් දහම් වැඩසටහනක බ්‍රහ්මායු බ්‍රාහ්මණයා ගැන කතා කලා. බුද්ධ කාලයේ හිටපු මේ බමුණො, බමුණන්ගේ තිබුනු බමුණු මාන්නය, බමුණන්ගේ තිබ්බ සමාජ අධිපති බව සුළුපටු දෙයක් නෙවෙයි. ඒ බමුණො බොහෝ විට රජවරු පවා මැඩපැවැත්වූවා. ඉතින් ඒ නිසා අදත් මං කල්පනා කලා ඒ වගේ විස්තරයක්ම ඔබට කියලා දෙන්න. ඒ සියල්ල අභියස ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ දහම් තේජසින් බැබළෙන හැටි, ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් දහම් තේජසින් බැබළෙන හැටි පුදුම හිතෙනවා. අද ඔබට අහන්න ලැබෙන්නේ ඉතාමත් ලස්සන විස්තරයක්. මේත් තියෙන්නේ බමුණන්ගේ මත මැඩ පවත්වා භාග්‍යවතුන් වහන්සේ ශ්‍රී සද්ධර්මාලෝකය පැතිරවූ ආකාරය. අපි සරණ ගිය අපේම ශාස්තෘන් වහන්සේ මගේම බුදුරජාණන් වහන්සේ ගැන පුදූම සන්තෝෂයක් පුදුම චිත්ත ප්‍රසාදයක් හිතට ඇතිවෙනවා මේ විස්තර අහනකොට. මේ සූත්‍ර දේශනාවේ නම අම්බට්ඨ සූත්‍රය. ඉතින් අම්බට්ඨ මානවකයාට වදාළ දෙසුම, මේ සූත්‍ර පිටකයේම මේ වාගේ විස්තරයක් මේ තියෙනවාමයි. පුදුම හිතෙනවාමයි, මෙච්චර සැරට බුදුරජාණන් වහන්සේ බමුණො දමනය කරපු වෙන තැනක් හිතාගන්නවත් නෑ. ඔන්න ඒක සිද්ධ වුනේ මේ විදියට. ඒ දවස්වල භාග්‍යවතුන් වහන්සේ මහත් වූ භික්ෂු සංඝයා පන්සීයක් පමණ සඟරුවන පිරිවරාගෙන කෝසල ජනපදයේ ඉච්ඡානංගල බ්‍රාහ්මණ ගමට වැඩම කළා. ඊටපස්සෙ ඉච්ඡානංගල ගමේ ඉච්ඡානංගල කැලේ තමයි භාග්‍යවතුන් වහන්සේ වනරොදේ වැඩහිටියේ. ඒ කාලයේ පොක්කරසාතී කියලා බ්‍රාහ්මණයෙක් උක්කට්ඨා කියන නගරයේ වාසය කලා. මේ පොක්කරසාතී කියන බමුණා හරී බමුණන් අතර, දැන් අර බ්‍රහ්මායු බ්‍රාහ්මණයා බමුණන් අතර අතිශයින් ප්‍රභූ කෙනෙක්නෙ. අවුරුදු

එකසිය විස්සක් වූ. ඒ වගේ කෝසල ජනපදයේ මේ පොක්කරසාතී බ්‍රාහ්මණයා මුළු දඹදිවම, මුළු ජම්බුද්වීපයේම ප්‍රසිද්ධ මහා බ්‍රාහ්මණයෙක්. ශිෂ්‍යයන් දහස් ගාණකට වේද උගන්වන බමුණෙක්. ඉතින් මේ පොක්කරසාතී බමුණා උක්ඛට්ඨාවේ වාසය කරනවා. ඒ මුළු බමුණු ගමම සියලු භවබෝග සහිතව භාවිතා කරන්න අයබදු ගන්න කෝසල මහරජ්ජුරුවො පොක්කරසාතී බ්‍රාහ්මණයාට ඒ ගම තෑගි කරලා තියෙන්නෙ. එතකොට ඒ ගමින් උපදින අයබදු රජතුමාට යන් නෑ, ඒක සම්පූර්ණයෙන්ම පොක්කරසාතී බ්‍රාහ්මණයාට තමයි ලැබෙන්නෙ. පොක්කරසාතී බ්‍රාහ්මණයාට අහන්න ලැබුනා අප්පේ දන්නවද මේ ඉච්ඡානංගල වන සෙනසුනට ශ්‍රමණ භවත් ගෞතමයන් වැඩම කරලා ඉන්නවා. උන්වහන්සේ ඉතින් ශාක්‍ය කුලයෙන් නික්මිලා ශාක්‍ය කුලයෙන් පැවිදි වෙච්ච රාජකුමාරයෙක්නෙ. මහා සඟ පිරිස සමඟ වැඩ ඉන්නෙ. ඉතින් උන්වහන්සේ ගැන ලෝකෙ නම් පැතිරෙන්නෙ, ජනයා අතර උන්වහන්සේ රහතන් වහන්සේ නමක් කියලා. තමා විසින්ම ධර්මය අවබෝධ කරපු සම්බුදුවරයෙක් කියලා. ඊළඟට අවබෝධයෙන් ජීවිතය ගත කරන විජ්ජාචරණ සම්පන්න උත්තමයෙක් කියලා. සුන්දර නිවනට විමුක්තියට පත්වූ කෙනෙක් කියලා. ඊළඟට සියලු ලෝකය අවබෝධ කරපු කෙනෙක් කියලා. අන් අය දමනය කරන්න පුලුවන් කෙනෙක් කියලා. දෙව් මිනිස්සුන්ට නිර්වාණ මාර්ගය විමුක්ති මාර්ගය කියලා දෙන කෙනෙක් කියලා. ඊළඟට අන් අයට ජීවිතේ යථා ස්වභාවය අවබෝධ කරන්න අතිශයින් චතුර වූ දක්ෂ උත්තමයෙක් කියලා, බුද්ධ. මහා පිනැත්තෙක් කියලා තමයි ඔය මිනිස්සු කතා කරන්නෙ. දැන් හිරු නගින්න පෙර අරුණ පැතිරෙනවා වගේ භාග්‍යවතුන් වහන්සේ ගමකට වඩින්න කලින් භාග්‍යවතුන් වහන්සේගේ කීර්තිඝෝෂාව සුළඟක් සේ පැතිරී යනවා. ඊටපස්සෙ උන්වහන්සේ මුල මැද අග පිරිසිදු ධර්මය දේශනා කරනවා, ඉතාමත් සුන්දරයි ඒ ධර්මය, ඉතින් ඒ පිරිසිදු විමුක්ති මාර්ගයයි දේශනා කරන්නෙ. හැබෑටම ඉතින් ඔය වාගේ උතුම් රහතන් වහන්සේ නමක් ඇස් දෙකින් දැක්කත් කොච්චර හොඳද කියලා මිනිස්සු කතා වෙනවා පොක්කරසාතී බ්‍රාහ්මණයාට අහන්න ලැබුනා. පොක්කරසාතී බ්‍රාහ්මණයාට ශිෂ්‍යයන් අතර ඉන්නවා එක්තරා තරුණයෙක් ඔහුගේ නම අම්බට්ඨ. අම්බට්ඨ කියන්නෙ පොක්කරසාතී යම්තාක් වේද වේදාන්තර ඉතිහාස කේටුනිඝන්ඩ ආදී දේවල් දන්නවාද ඒ සියල්ල අම්බට්ඨයත් දන්නවා. ඉතින් මම යමක් දන්නවාද, අම්බට්ඨ උඹත් ඒක දන්නවා. අම්බට්ඨ යමක් දන්නවාද ඒක මමත් දන්නවා කියලා පොක්කරසාතී නිතර කියනවා. ගුරුවරයා

හා ශිෂ්‍යයා සමාන තැන ඉන්නවා. එතකොට පොක්කරසාතී බ්‍රාහ්මණයා අම්බට්ඨට කතා කලා. පුතේ අම්බට්ඨ මෙහෙ වරෙන්. ශාක්‍ය කුලෙන් නික්මිලා පැවිදි වූ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ඉච්ඡානංගල වන සෙනසුනේ වාසය කරනවා කියලා ආරංචියි. පැතිරෙනවා කීර්තිඝෝෂාවක් උන්වහන්සේ අරහං සම්මා සම්බුද්ධ විජ්ජාචරණ සම්පන්න සුගත ලෝකවිදූ ආදී වශයෙන්. අම්බට්ඨ උඹ යන්න ඕන. උඹ ගිහිල්ලා ඔය ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ඔය කියන තරම්ම මහා ගුණවතෙක්ද නැද්ද කියලා උඹ පරීක්ෂා කරපං, චෙක් කරපං කියලා කිව්වා. ඊටපස්සෙ ඒ අම්බට්ඨ අහනවා, අනේ ආචාර්‍යපාදයෙනි, කොහොමෙයි මම දන්නෙ ඒ ශ්‍රමණ භවත් ගෞතමයො බුදු වෙලාද නැද්ද ගුණ සම්පන්නයිද නැද්ද කියලා කොහොමෙයි මම දන්නෙ. ඊටපස්සෙ කිව්වා ඈ අම්බට්ඨ උඹට වේද වේදාන්තර වල තියෙනවා මතක නැද්ද දෙතිස් මහා පුරුෂ ලක්ෂණ විද්‍යාව. මහා පුරුෂ ලක්ෂණ විද්‍යාව. ඒකෙදින් කියලා තියෙනවා නේද, ඒ පුරුෂ ලක්ෂණ තිස් දෙක තියෙන එක්කෙනෙක් ගිහි ගෙදර වාසය කලොත් සක්විති රජ වෙනවා, පැවිදි වුනොත් තුන් ලෝකෙටම විමුක්තිය ලබලා දෙන මහා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් වෙනවා කියලා අපේ පොත්වල තියෙනවා නේද? එහෙමයි කියලා කිව්වා. ආ එහෙනම් උඹ පලයං. ගිහිල්ලා ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ මුළු ශරීරයම පරීක්ෂා කරලා බලාපං ඔය තිස්දෙක තියෙනවාද කියලා. ඉතින් ඔන්න අම්බට්ඨ තවත් පිරිසක් කැටුව, තරුණයින් කැටුව ඉච්ඡානංගල වනසෙනසුනට ගියා. බලන්න පින්වතුනි ඒ කාලයේ සම්මා සම්බුදුරජාණන් වහන්සේට තිබ්බ අභියෝග, බුදුරජාණන් වහන්සේගේ රෝම කූපයක් ගානෙ චෙක් කරන්න මිනිස්සු ආවා ඒ කාලෙ. ඇත්තද කියලා, එච්චර ලෝකෙට බුදු කෙනෙක් පහළ වීම ආශ්චර්‍යයි, විශ්මිතයි, හිතාගන්නවත් බෑ. ඒ කියන්නෙ ඒ කාලෙ බමුණන්ටත් නිවන් දකින්න, බ්‍රහ්මායු බ්‍රාහ්මණයා අනාගාමී වෙන්න පින තිබ්බ කෙනෙක්නෙ. නමුත් උත්තර කියලා මානවකයෙක් යැව්වනෙ ඉස්සෙල්ලා චෙක් කරන්න මේ ඇත්තද කියලා. හේතුව එච්චර ඒ ඇත්තන්ට නුවණ තියෙනවා, තිබ්බට විශ්වාස කරන්න අමාරුයි බුදු කෙනෙක් පහළ වෙලා කියලා. ඉතින් පොක්කරසාතී දැන් අම්බට්ඨ යැව්වා. අම්බට්ඨ දැන් පිරිසත් එක්ක ගිහිල්ලා සංඝයාගෙන් ඇහුවා, භවත්නි ඒ ශ්‍රමණ භවත් ගෞතම - හරී මාන්නයිනෙ අම්බට්ඨ. කෝ ඒ ශ්‍රමණ භවත් ගෞතමයො. එතකොට භික්ෂූන් වහන්සේලාට හිතුනා මේ අම්බට්ඨයා පොක්කරසාතී බ්‍රාහ්මණයාගේ ගෝලයෙක්. පොක්කරසාතී බ්‍රාහ්මණයා මේ මුළු ජම්බුද්වීපෙම ප්‍රසිද්ධ බමුණෙක්. මේ

අම්බට්ඨ භාග්‍යවතුන් වහන්සේ මුණගැහිලා යම්කිසි දහම් කතාවක් කළොත් මොහුටත් යහපතක්, මොහුගේ ගුරුවරයාටත් යහපතක්, බොහෝ දෙනෙකුට යහපතක්. ඒ නිසා කෝකටත් අපි භාග්‍යවතුන් වහන්සේ මුණගස්වන එක හොඳයි කියලා කිව්වා අම්බට්ඨ, ආන්න අතන කුටියේ තමයි භාග්‍යවතුන් වහන්සේ වැඩ ඉන්නෙ. පොඩ්ඩක් ගිහිල්ලා කුටියේ දොරට තට්ටු කරලා උගුර පාදන්න. භාග්‍යවතුන් වහන්සේ විවරස්සති භගවා ද්වාරං, භාග්‍යවතුන් වහන්සේ දොරටුව විවෘත කරනවා. අම්බට්ඨ අර තරුණ කොල්ලො ටිකත් එක්ක ගිහිල්ලා දොරට තට්ටු කරලා උගුර පෑදුවා. අපගේ භාග්‍යවතුන් වහන්සේ කුටියේ දොරටුව විවෘත කලා. දොරටුව විවෘත කරලා භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටියා. දැන් මේවා අටුවා වල නම් සඳහන් වෙන්නෙ භාග්‍යවතුන් වහන්සේ මෙහෙම දොර දිහාවට අත දික් කරනකොට එහෙම්මම දොර විවෘත වෙනවා. ඉතින් අම්බට්ඨ එහෙම්මම ඇතුල් වුනා. කොල්ලො ටිකත් ඔක්කොම භාග්‍යවතුන් වහන්සේගේ කුටියට ගියා. දැන් ඉස්සර පුදුමයි. කොසොල් මහා රජ්ජුරුවො වගේ එකපාරම දොරට, කුටියට ඇතුල් වෙන් නෑ. බුදුරජාණන් වහන්සේ දොරටුව විවෘත කලොත් ඒ එක්කම සිරිපා කමල් ළඟ වැඳ වැටිලා සිරිපා සිඹිනවා කෝසල මහාරජ්ජුරුවො. අම්බට්ඨයා අර කොල්ලො ටිකත් එක්කලා එකපාරටම ඇතුලට ගියා අර කුටියේ, ගන්ධ කුටියේ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ආසනයේ වැඩ හිටියා, අර කොල්ලො ටිකත් පැත්තක ඉඳගත්තා. අම්බට්ඨයා සක්මන් කරනවා කුටිය ඇතුලේ. දැන් භාග්‍යවතුන් වහන්සේ අසුන් ගෙන. ඊටපස්සෙ ඉතින් ආ කොහොමද, මේ පැත්තට කවද්ද ආවෙ කින්ද මන්ද කියලා සතුටු සාමීචිය කතා කරනවා මෙයා අම්බට්ඨයා සක්මන් කර කර. භාග්‍යවතුන් වහන්සේ අසුන්ගෙන. දැන් සාමාන්‍යයෙන් ඔය සිද්ධිය හිතෙන් මවලා බලන්නකො ගැලපෙනවාද කියලා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ ඇහුවා අම්බට්ඨගෙන් ඈ අම්බට්ඨ ඔබ වාඩි වී සිටින මාත් එක්ක ඇවිදිමින් හිටගෙන සක්මන් කර කර කතා කරනවා. ඔබ අනිත් වැඩිමහළු ආචාර්‍ය්‍ය ප්‍රාචාර්‍ය්‍ය වූ බ්‍රාහ්මණයන් සමඟත් ඔය විදියටද අම්බට්ඨ කතා කරන්නෙ. කියනවා ගෞතමයෙනි, එහෙම නෑ, ගෞතමයෙනි ගමන් කරන බ්‍රාහ්මණයාත් එක්ක ගමන් කර කර යන - කියන්නෙ ඇවිදින බ්‍රාහ්මණයාත් එක්ක ඇවිදින ගමන් කතා කරන එක තමයි චාරිත්‍රය. හිටගෙන ඉන්න බමුණත් එක්ක හිටගෙන කතා කරන එක තමයි චාරිත්‍රය. ඊළඟට ඉඳගෙන ඉන්න බ්‍රාහ්මණයාත් එක්ක ඉඳගෙන කතා කරන එක තමයි සිරිත. නිදාගනෙ ඉන්න බ්‍රාහ්මණයාත් එක්ක නිදාගෙන ඉන්න එකයි සිරිත. ඒත්

ගෞතමය, යම් ඒ හිස මුඩු කල ලාමක දිව් ගෙවන, පහත් දිවි ගෙවන, කළු වූ මහා බ්‍රහ්මයාගේ යටිපතුලෙන් ඉපදුන ශ්‍රමණයො ඉන්නවානෙ, උන් එක්ක මං මෙහෙම තමයි කතා කරන්නෙ. කොහොමද මේ අම්බට්ඨයා කියපු වචනෙ බරපතලකම. භාග්‍යවතුන් වහන්සේට බමුණන්ගේ යටි පතුලෙන් ඉපදුනු, පහත් දිවි ගෙවන, පහත් මිනිස්සුත් එක්ක මං මෙහෙම තමයි කතා කරන්නෙ කිව්වා. පුදුම සහගතයි ඒ කාලෙ වෙච්ච දේවල්. මගේ බුදුරජාණන් වහන්සේ නිහඬ වුනා. අම්බට්ඨ දැන් ඔබ යම් වැඩකටනෙ මෙහෙට ආවෙ. මම කැමැතියි ඒ කාරණාව අහගන්න. ඔයා ආපු කතාව කියලා යන්න. මොකද අම්බට්ඨ බමුණෙක් විදියට බමුණු තරුණයෙක් විදියට මෙතෙන්ට ඇවිල්ලා තියෙනවා කිසී හික්මීමක් නෑ, කිසී හැදිච්ච කමක් නැති මිනිහෙක් විදියට ඇවිල්ලා මෙතන කතා කරනවා ආපු වැඩේ කතා කරලා යන්න කිව්වා. මේක කිව්වා විතරයි අම්බට්ඨයාට තරහා ගියා, මේ බමුණො හරී අකැමැතියි නොහික්මුණා කියන එක අහගන්න. ඉතින් නොහික්මුණ, ඔෆෂිතවාද,-ඔෆෂිතවාද කියන්නෙ ඔෆෂිත කියලා කියන්නෙ හික්මුන් නැති, දහමෙහි හරියට යෙදුන්නැති කියන - ඒක අහපුවාම හොඳටම තරහා ගියා, අම්බට්ඨට. අම්බට්ඨට තරහ ගිහිල්ලා හොඳටම ක්‍රෝධ වෙලා කල්පනා කලා හිටපං උඹට කියලා අම්බට්ඨ දැන් ඔන්න හොඳටම කෝපයෙන් කට වෙව්ලනවා. ඒයි ගෞතමයෙනි, ශාක්‍ය ජාතිය ඉන්නවා නේද. උන් චණ්ඩයි. ශාක්‍ය ජාතිය ඉන්නවා නේද උන් පරුෂයි. ශාක්‍ය ජාතිය ඉන්නවා නේද උන් ලාමකයි. ඔය ශාක්‍ය ජාතිය තියෙනවා නේද සැර වචන තියෙන්නෙ. ඔය ශාක්‍ය ජාතිය කියන ගිහියො ටික අපෙන් ඉගෙනගන්න ඕන අපේ දාසයො වාගේ ශාක්‍ය ජාතිය. ඒ ශාක්‍ය ජාතිය බමුණන්ට ගෞරව කරන් නෑ, බ්‍රාහ්මණයන්ට බුහුමන් දක්වන් නෑ, පුදන් නෑ, යටහත් නෑ, ඒක හරි නෑ ගෞතමය, ඒක හරි නෑ, පහත් ගති ඇති ශාක්‍ය ජාතිය ගිහි ඇවතුම් පැවතුම් ඇති අපේ දාසයො වාගේ ඉන්න ඒ අය අපිට මෙහෙම ගරු බුහුමන් දක්වන එක හොඳ නෑ, එතකොට මේ විදියට අම්බට්ඨයා ශාක්‍ය ජාතියට බමුණන්ගේ මෙහෙකාර බව කියන ඉබ්බවාදය නැමැති චෝදනාව එල්ල කලා බුදුරජාණන් වහන්සේ ඉස්සරහා. මොකද බුදුරජාණන් වහන්සේගේ කීර්තිඝෝෂාව පවා ලෝකයේ පැතිරෙන්නෙ සක්‍යකුලා සක්‍යකුල පබ්බජිතා, ශාක්‍ය කුලයේ ශාක්‍ය කුලයෙන් පැවිදි වූ කුමරාණෝ කියලා. මේ අම්බට්ඨයා ශාක්‍ය කුලයට හරීයට දොස් කිව්වා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඇහුවා ඈ අම්බට්ඨ, අම්බට්ඨට මේ ශාක්‍යයන්ගෙන් මොකක් හරි වැරැද්දක්වත් වෙලා තියෙනවාද? ශ්‍රමණ භවත් ගෞතමය, මං එක් කාලෙක පොක්කරසාතී

බ්‍රාහ්මණතුමාගේ එක්තරා කටයුත්තකට කපිලවස්තුවට ගියා. කපිලවස්තුවේ ශාක්‍ය කුමාරවරු සන්තාගාරයේ විවේකාගාරයේ කොල්ලො ටික ඔක්කොම එකතු වෙලා හිටියා, මං එතනින් ගියා. මුං එකෙක් ආසන වලින් නැගිට්ටෙ නැනෙ. ශාක්‍ය කුමාරවරු එක එක්කෙනාට ඇඟිල්ලෙන් ඇන ඇන හක හක ගගා හිනාවුනා. මම හිතුවෙ මටමයි හිනාවුනේ උන්. එතකොට අපි වාගේ මහා බ්‍රාහ්මණවරු යද්දි ආසනයෙන් නැගිටින් නැතිව හක හක ගගා හිනාවෙන එක ඔය ශාක්‍ය කුලයේ එවුන්ට සුදුසු ද. උන් බමුණන්ට ගරු කරන් නෑ, යටහත් පැවතුම් නෑ. අපේ දාසයො වගේ ඉදගෙන මේ ගරු කරන්නැති එක හොඳ නෑ කියලා ආයෙත් දෙවෙනි වතාවටත් බමුණන්ගේ මෙහෙකරුවො කියන ඉබ්බවාදයෙන් ශාක්‍ය කුලයට නින්දා කලා. කොහොමද, භාග්‍යවතුන් වහන්සේ වදාළා අම්බට්ඨ කැට කුරුල්ලා වුනත් තමන්ගේ කූඩුවේදී සිතු මනාපෙට කෑ ගහනවා. ඒ නිසා කපිලවස්තුව කියන්නෙ ශාක්‍යයන්ගේ අගනගරය. එතකොට ශාක්‍යයෝ එහෙම ඉන්න පුලුවන්. ඉතින් ඔය පොඩි දේවල් හිතේ තියාගෙන වෛරය බදින්න එපා අම්බට්ඨ. භවත් ගෞතමයෙනි, ක්ෂත්‍රිය, බ්‍රාහ්මණ, වෛශ්‍ය, ශුද්‍ර කියලා කුල හතරක් තියෙනවානෙ බ්‍රාහ්මණ, ක්ෂත්‍රිය, වෛශ්‍ය, ශුද්‍ර කියලා. මේවගෙන් ක්ෂත්‍රිය, වෛශ්‍ය, ශුද්‍ර කියන කුල තුනම බමුණන්ගේ මෙහෙකරුවො. බමුණන්ම තමයි ශ්‍රේෂ්ට. ඒ නිසා හරි නෑ ඔය වැඩේ. මම ශාක්‍ය ජනපදයට ගිය වෙලාවේ උන් හක හක ගගා හිනාවෙච්චි එක හරි නෑ. අපේ මෙහෙකරුවො වගේ ඉන්න ශාක්‍ය වංශෙ එවුන් ඔය විදියට බමුණන්ට සළකපු එක හරි නෑ. තුන්වෙනි වතාවටත් අම්බට්ඨයා ඉබ්බවාදයෙන් මෙහෙකරුවෝ කියන වාදයෙන් ශාක්‍ය කුලයට නින්දා කලා. එතකොට භාග්‍යවතුන් වහන්සේට මෙහෙම හිතුනා. මේ අම්බට්ඨ අතිශයින්ම පහත් විදියටම ශාක්‍ය කුලයට බනිනවා. මාත් මෙයාගෙන් වංශය අහන්න ඕන දැන්. පුදුම සිද්ධියක්. මං ඒකයි කිව්වෙ මුළු ත්‍රිපිටකයටම මෙච්චරයි තියෙන්නෙ. මාත් මෙයාගෙන් අහන්න ඕන මූගෙ වංශෙ මොකක්ද කියලා. ඈ අම්බට්ඨ, අම්බට්ඨයන් කවර ගෝත්‍රයකින් යුක්තයිද, ඊළඟට කිව්වා මං කන්හායන ගෝත්‍රයෙන් යුක්තයි. පින්වත් අම්බට්ඨ ඔබගේ මව්පියවරුන්ගේ අයත් පැරණි නම්ගොත් සිහි කරද්දි අම්බට්ඨ උඹ දැන් කිව්වනෙ කන්හායන ගෝත්‍රයේ කියලා, ඔය ගෝත්‍රයේ මුලට හොයාගෙන හොයාගෙන ගියොත් අම්බට්ඨ උඹ ශාක්‍යයන්ගේ දාසයෙක්ගේ පුතෙක් කිව්වා. ශාක්‍යයන්ගේ දාසයෙක්ගේ පුතෙක්. උඹ ආපස්සට මුලට සිහි කලොත් එහෙම ශාක්‍යයන්ගේ රජ කෙනෙක් තමයි උඹගේ මීමුත්තා වෙන්නෙ. පින්වත් අම්බට්ඨ උඹ මොකක්ද මේ ගැන

හිතන්නෙ. ඉස්සර ඔක්කාක කියලා රජ කෙනෙක් හිටියා. ඔහුගේ ප්‍රියමනාප මහේෂිකාවක් නිසා ඇයගේ පුතාට රජකම දෙන්න කියලා රජු පෙළඹෙව්වා. ඒ නිසා උක්කාමුඛ, කලන්දක, හත්තිනික, නිපුර කියන ජ්‍යෙෂ්ඨ කුමාරවරු රටින් පිටුවහල් කලා සහෝදරයොත් එක්ක. ඔන්න ඊටපස්සෙ මේ තමයි ශාක්‍ය වංශයේ ආරම්භය මේ කියන්නෙ.මේක හොඳට තේරුම් ගන්න. පුදුම කතාවක් මේක. ඒ ඔක්කාක රජතුමාට පුතාලා හිටියා උක්කාමුඛ, කලන්දක, හත්තිනික, නිපුර කියලා. පස්සෙ බිරිඳට තව දරුවෙක් ලැබුනා. ඊටපස්සේ එදා රජතුමා සතුටු වෙලා වරයක් දුන්නා. කිව්වා පස්සෙ ගන්නම් කියලා. ළමයි ලොකු වීගෙන එනකොට අර දෙවෙනි බිරිඳ කිව්වා තමන්ගේ පොඩි ළමයට රජකම දෙන්න කියලා. එතකොට ඊට කලින් වැඩිමහල් දරුවො ඉන්නවා. රජතුමාට බය හිතුනා අර බිසව මුල් වෙලා මේ කොල්ලො ටික මරයි කියලා, රාජකුමාරවරු. ඊටපස්සෙ කිව්වා පුතාලා නුඹලා පලයල්ලා ඈතකට. ගිහිල්ලා මං මැරුණට පස්සෙ ඇවිල්ලා රජකම ගනිල්ලා කියලා පිටත් කලා. ඒ අය හිමාල ප්‍රදේශයට ගිහිල්ලා පොකුණක් අද්දර වන ගොමුවක වාසය කලා. එතකොට ඒ කාලයේ කපිල කියලා ඍෂිවරයෙක් තමයි ඒ කාලෙ හිටියේ ඒ පොකුණ ළඟ. කපිල ඍෂිවරයා කිව්වා රාජකුමාරවරුනි නුඹලා මෙන්න මේ හරිය තමන්ගෙ රාජධානිය කරගන්න. මේ හරිය රාජධානිය කරගත්තට පස්සෙ අනාගතේ මේ පරම්පරාවෙ මේ තුන් ලෝකෙම ශ්‍රේෂ්ටතම පුත්‍ර රත්නය මේ කපිල වස්තුවේ පහළ වෙනවා කිව්වා. ඒනිසා උඹ මෙතන රාජධානිය හදාගනිල්ලා කියලා කපිල ඍෂිවරයා කිව්වා. ඊටපස්සෙ තමයි හිමාලයේ, හිමාලය පේනවා කපිලවස්තුවට. අපි ගිහිල්ලා තියෙනවා, ඈත හිමාලය පේනවා. හිමාලය ආසන්නයේ ඒ නගරය හදාගත්තා. ඊටපස්සෙ ඒ අය කල්පනා කලා, රජකුලයේනෙ. රජකුලයේ අය වෙන අයත් එක්ක හිටියොත් එහෙම රාජවංශය කිළුටු වෙන නිසා තමන්ගේම සහෝදරියන්ගෙන් කැමැත්ත අරගෙන තමන්ගේ සහෝදරියොත් එක්ක එකට වාසය කලා. ඊටපස්සෙ දරු පරම්පරාව හැදුවා රාජධානිය හදාගෙන. ඊටපස්සෙ ඔක්කාක රජ්ජුරුවො ඇමතියන්ගෙන් ඇහුවා මගේ දරුවො දැන් කොහේ ඉන්නවාද දන්නෑ නේ. ඊටපස්සෙ චරපුරුෂයො ඇවිල්ලා කිව්වා ඇමතිවරුන් හරහා හිමාල ප්‍රදේශයේ ඉන්නවා තමන්ගේ වංශය කිළුටු වෙයි කියලා තමන්ගේ රාජ කුමාරිකාවොත් එක්ක වාසය කරලා දැන් ඒ පරම්පරාව හදාගෙන යනවා. සක්කාවත මේ කුමාරා, මේ කුමාරවරු හරී දක්ෂයි. සක්කා. දක්ෂයි කියන අදහසින් ඒ කුමාරවරුනට, ඒ වංශෙට නම යෙදුනා ශාක්‍ය කියලා. අම්බට්ඨ උඹ ඕවා අහලා නැද්ද කියලා ඇහුවා.

එතකොට ඔවුන්ගේ පූර්ව පුරුෂයා වුනේ ඔක්කාක රජතුමා. ශාක්‍යයන්ගේ පූර්ව පුරුෂයා ඔක්කාක. එතකොට දැන් බලන්න මේ බුදුරජාණන් වහන්සේගේ ශාක්‍ය වංශය ආරම්භ වෙන හැටි කියනවා. ආරම්භය සහෝදරයොත් එක්ක එකතු වෙච්චි ඔය කතාවක්, වංශෙ කිලුටු වෙයි කියලා. දැන් පැහැදිලිව ලොව්තුරා සම්මා සම්බුදුවරයෙක් තමන්ගේ වංශය එහෙම ලස්සනට කිව්වානෙ, වංශෙට ගැරහුවෙ නෑනෙ. අපේ සිංහල මිනිහා වංශෙට ගරහන් නැද්ද. විජය කුමාරයා හොරෙක් ලු. විජය කුමාරයා ස්ත්‍රීන් දූෂණය කලාලු. තමන්ගෙ ආදී පුරුෂයාට ගරහනවානෙ මේ හිස් පුරුෂයො. විජය කුමාරයා ස්ත්‍රීන් දූෂණය කලේ නෑ. හොඳට වංශ කතාව කියවන්න, විජය කුමාරයා තමන්ගේ පිරිස බේරගන්න තමයි කඩුව තිබ්බෙ කුවේණිගෙ බෙල්ල ළඟට. ඊටපස්සෙ කුවේණි යටත් වෙලා ඊටපස්සෙ විජය කුමාරයාට බඩගිනියි කියලා කියනකොට නැව්වල තිබ්බ මිනිස්සු මරාගෙන හිස් වෙච්චි නැව් වල තිබ්බ ආහාර විජය කුමාරයාට පෙන්නුවා. පිරිසත් එක්ක විජය කුමාරයා ආහාර අරගෙන ඒ ආහාර විජය කුමාරයා භුක්ති වින්දා. භුක්ති විඳින්න කලින් මේ ප්‍රණීත ආහාර වල අග්‍ර කොටස ඒ ආහාර තමන්ට ලබාදෙන්න මුල් වෙච්චි කුවේණි යක්ෂණියට දුන්නා. මෙතෙක් කුවේණිය පිසූ ආහාර භුක්ති විඳලා නෑ යක්ෂණිය. ඊටපස්සෙ අර ප්‍රණීත පිසූ ආහාර භුක්ති විඳපු කුවේණිය අතිශයින් ප්‍රීති ප්‍රමෝදයට පත්වුනා. අතිශයින් ප්‍රීති ප්‍රමෝදයට පත්වෙලා කුවේණි තමයි තීරණය කලේ මං මෙයාට ඕන විදියට ස්ත්‍රී කෘත්‍යය කරන්න ඕන කියලා. ඊටපස්සෙ කුවේණිය තමයි බලෙන්ම වෙස් මාරුකරගෙන අවුරුදු දාසයේ කෙල්ලෙක්ගේ ශරීරය විදියට කඩරෙදි තිරරෙදි මවලා, යහනක් මවලා ඒ කුවේණි තමයි විජය කුමාරයා ඇදගෙන ගියෙ. ඉතිහාසය බලන්න. විජය කුමාරයා ගෑණුන්ට අත තිබ්බෙ නෑ, අපේ සිංහල මනුස්සයො වෙලා ඉඳලා සිංහල මනුස්සයාගේ ආදී පුරුෂයාට ගරහනවා කියලා යමක් ඇත්ද, ඕක තමයි සිංහල ජාතියේ විනාශය. මේ බලන්න ශාක්‍ය කුලයෙන් පැවිදි වූ තුන් ලෝකයට අග්‍ර මහා බ්‍රහ්මයාගේ වැඳුමෙන් වැඳුම් ලබන තථාගතයන් වහන්සේ තමන්ගේ ජාති කුල පරම්පරාව බොහෝම සන්තෝෂෙන් කියන හැටි. ඒ නිසා තම තමන්ගේ දේවල් තම තමන් තේරුම් ගන්න ඕන. ඊටපස්සෙ කියනවා අම්බට්ඨ, ඔක්කාක රජ්ජුරුවන්ගෙන්නෙ ඔය පැවතගෙන එන්නෙ. ඔක්කාක රජ්ජුරුවන්ට දිසා කියලා දාසියක් හිටියා. ඒ දිසා කියන දාසිය තමයි කන්හ වැදුවේ. ඒ රජ්ජුරුවන්ට දාව. ඒ දාසිය ඒ දරුවා ඉපදිච්චි ගමන්ම ඒ දරුවා කෑගැහුවා, අම්මා මාව හෝදන්න, අම්මා මාව නාවන්න, අම්මා මේ අසූචි වලින්

මාව ගොඩට ගන්න, අම්මා මං ඔයාව බලාගන්නම් කියලා අර පොඩි ළමයා ඉපදිච්චි ගමන් කතා කලා. ඒ කාලෙ ඉපදිච්චි ගමන් කවුරුහරි කතා කලොත් පිසාචයෙක් ඉපදුනා, කලු කෙනෙක් ඉපදුනා කියලා මිනිස්සු බයවෙනවා යකෙක් ඉපදිලා කියලා. ඒ නිසා මිනිස්සු අර ළමයට නම තිබ්බා කන්හ කියලා, කළු කෙනා, බිය උපද්දවන කෙනා කියලා. ඉතින් ඒ කන්හ කියන කෙනාගේ ගෝත්‍රයෙන් තමයි උඹ ඉපදුනේ. අම්බට්ඨ උඹ ආපහු උඹගේ ජීවිතේ ආපහු උඹගේ පරම්පරාව පිටිපස්සට සිහි කලොත් එහෙම ශාක්‍යයන්ගේ දාසියෙක්ගේ කුසින් ඉපදුනු මනුස්සයෙක්ගේ පරම්පරාවෙන් කිව්වා උඹ එන්නෙ. ඇත්තද, නැද්ද කියලා ඇහුවා. හරි නම් හරි කියාපං, නැත්නම් නෑ කියාපං කිව්වා. ඊටපස්සෙ මෙහෙම කියනකොට අර බමුණු කොල්ලො ටික ඉන්නවානෙ පිටිපස්සෙ. ඒ අය කිව්වා ශ්‍රමණ භවත් ගෞතමයෙනි, අපේ අම්බට්ඨ බ්‍රාහ්මණතුමාට එක එක කතා කියලා නින්දා කරන්න එපා. දාසි පුත්‍ර වාදයෙන් පිරිහෙලන්න එපා. මෙයා මහා බ්‍රාහ්මණයෙක්, බහුශ්‍රැතයි, වේද වේදාන්තරයන්ගෙන් කෙළවරට පත්වෙලා ඉන්න මහා පූජනීය ප්‍රෞඩ ප්‍රසිද්ධියක් තියෙන කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයෙනි අපේ අම්බට්ඨයන්ට නින්දා කරන්න එපා කිව්වා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාලා අර කොල්ලො ටිකට, මේ බලන්න මේ තනි කුටියේ කිසි කෙනෙක් නෑ, හාමුදුරු වරුත් ජනේලෙන් එබිකම් වෙලත් නෑ, දොර ගාවට වෙලා ඔළුව දාගනෙත් නෑ, කවුරුවත් නෑ. බුදුරජාණන් වහන්සේ තනියෙන්. බුදුරජාණන් වහන්සේ වදාළා ඇ කොල්ලනේ, උඹලට හිතෙනවා නම් මේ අම්බට්ඨ හරී දක්ෂයි, ඊළඟට හොඳට කතා බහ කරන්න පුලුවන් මහා බලවත් මනුස්සයෙක් කියලා ඔහේලා කටවහගන්න, මෙයා මාත් එක්ක කතා කරයි. මෙයාට කතා බහ කරන්න බෑ, දැන් මෙයාට මොකුත් කියවගන්න බෑ ගොළුවෙලා තක්බීර් වෙලා වගේ ඉන්නෙ කියලා ඔයාලාට හිතෙනවානම්, ඈ තරුණයෙනි උඹලා මාත් එක්ක කතා කරපල්ලා, එතකොට අම්බට්ඨ පැත්තකට වෙලා හිටපුදෙන් කිව්වා. ඊටපස්සෙ අර තරුණයො කිව්වා නෑ නෑ අපේ අම්බට්ඨ බ්‍රාහ්මණතුමා හරී දක්ෂයි, හරී පාණ්ඩිතයි, ඒ නිසා උන්වහන්සේට කතා කරන්න පුලුවන්, අපි එහෙනම් කටවහගෙන ඉන්නම් කිව්වා. දැන් ඇත්තටම මේ වාගේ මනුස්සයෙක්ගේ මිනිස්සුත් එක්ක කතා බහ කරලා මේ විදියේ උත්තර ගන්න පුලුවන් කෙනෙක් නම් අද කාලෙ හිතාගන්න අමාරුයි. ඊටපස්සෙ අම්බට්ඨගෙන් බුදුරජාණන් වහන්සේ අහනවා පින්වත් අම්බට්ඨ දැන් උඹ කරුණු සහිතව පිළිතුරු දිය යුතුයි අකමැත්තෙන් වුනත් පිළිතුරු දිය යුතුයි, විසඳන්නැතිව වෙන ඒවා දැන් කියන්න

හදන්න එපා. උඹ මං අහපු ප්‍රශ්නෙට උත්තරේ දෙනවා හැර වෙන ඒවට උත්තර දෙන්න හදන්නත් එපා. නිශ්ශබ්දව ඉන්න හදන්නත් එපා, පැනලා දුවන්න හදන්නත් එපා. ඇත්තටම කියාපං උඹගේ වංශෙ මොකක්ද, මම කිව්ව විස්තර වැරදිද, උඹ පැනලා යන්න හැදුවොත් වෙන කතාවක් කියන්න හැදුවොත්, එහෙම නැත්නම් වෙන දේකින් මේක වහන්න හැදුවොත් මතක තියාගනිං කිව්වා ලොව්තුරා සම්මා සම්බුදුවරයෙක් ප්‍රශ්න අහන්නෙ, ඒ වෙලාවේ පැනලා ගියොත් උඹේ හිස හත් කඩකට පැලෙයි කිව්වා. එතකොට ඈ අම්බට්ඨ උඹ මොකක්ද අහලා තියෙන්නෙ අතීතයේ විස්තර හොයාගෙන යනකොට කන්හ කියන ඍෂිවරයා ශාක්‍ය රජ කෙනෙක්ගේ දාසියෙක්ගේ පුතෙක් ද නැද්ද? මම කිව්ව විස්තර හරි ද වැරදි ද? එතකොට අම්බට්ඨ මානවකයා නිශ්ශබ්ද වුනා. දෙවෙනි වතාවටත් භාග්‍යවතුන් වහන්සේ ඇහුවා අම්බට්ඨ දැන් උඹට නිහඬව ඉන්න කාලෙ නෙවෙයි, වැඩිමහලු ආචාර්‍ය්‍ය ප්‍රාචාර්‍ය්‍ය බමුණන්ගෙන් උඹ මොනවද අහලා තියෙන්නෙ. කන්හායන ගෝත්‍රයේ ආරම්භය ඇතිවුනේ කවුරු නිසාද, කන්හායන ගෝත්‍රයන්ගේ පූර්ව පුරුෂයා කවුද, දැන් කියාපං කිව්වා. දෙවෙනි වතාවටත් අම්බට්ඨ නිහඬ වුනා. බුදුරජාණන් වහන්සේ වදාළා අම්බට්ඨ දැන් උත්තර දියං. අම්බට්ඨ දැන් නිශ්ශබ්දව ඉන්න කාලෙ නෙවෙයි. භාග්‍යවතුන් වහන්සේ නමක් තථාගතයන් වහන්සේ නමක් තුන් වතාවක් දක්වා කරුණු විමසද්දි යම්කිසි කෙනෙක් උත්තර දෙන්නැත්නම් ඔහුගේ හිස එතනම හත්කඩකට පැලෙනවා. එහෙම කියනකොටම වජ්‍රපාණී කියන යක්ෂයා ආකාශේ ගිනිගෙන දිලිසී හිටියා. අතේ යගදාවක් තියාගෙන. ඈ අම්බට්ඨයො තෝ තථාගතයන් වහන්සේ තුන්වෙනි වතාවටත් අහද්දි උත්තර දුන් නැත්නම් තොගේ හිස බිත්තරයක් වගේ චප්ප කරනවා මං දැන් කියලා වජ්‍රපාණී යක්ෂයා ආකාශයේ පෙනී හිටියා. එතකොට ඒ වජ්‍රපාණී යක්ෂයා මෙයාගේ හිස හත්කඩකට පලන්න ඕන කියලා අර විශාල ගිනිගෙන දිලිසෙන යගදාව උස්සගෙන මෙහෙම ඉන්නවා පේන්නෙ බුදුරජාණන් වහන්සේටත් අම්බට්ඨයාටත් විතරයි. අම්බට්ඨයාගේ මුළු සියොළඟින්ම දාඩිය ගලන්න ගත්තා. අම්බට්ඨයා දිය උල්පතක් වගේ දාඩිය හෙලන්න ගත්තා. ඊටපස්සෙ අම්බට්ඨයාට උතුර දකුණ පැටලී ගියා. සියලු ප්‍රශ්න අමතක වී ගියා. බුදුරජාණන් වහන්සේ විතරක්ම පෙනුනා. මට පිහිට තියෙන්නේ භාග්‍යවතුන් වහන්සේ විතරයි කියලා ස්වාමීනී ඔබ වහන්සේ මොකක්ද මගෙන් අහපු ප්‍රශ්නේ කියලා ඇහුවා ආයෙ සැරයක්. ප්‍රශ්නෙත් අමතක වෙලා අම්බට්ඨයාට. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඇහුවා අම්බට්ඨ මං ඇහුවේ උඹ, උඹලගේ

වංශෙ ආරම්භෙ ඒ ආරම්භෙ පටන් ගත්තෙ කොහොමද කියලා, දැන් අර මං විස්තර වගයක් කිව්වානෙ වැඩිමහළු ආචාර්‍ය ප්‍රාචාර්‍යයන්ගෙන් ඇහුවෙ කොහොමද ආදී පුරුෂයා කවුද, කන්හ ඍෂිවරයාගේ මුල කොහොමද කියලා. ගෞතමයෙනි, භාග්‍යවත් ගෞතමයන් වහන්සේ යම් විදියකට වංශ කතාව දැන් මං ඉදිරියේ කියා හිටියාද, ඒක ඒකාන්ත සත්‍යයක් කිව්වා. ඒක ඒ විදියටම තමයි වුනේ කිව්වා. මෙහෙම කියනකොට අර තරුණයො ටික අනේ බලාපල්ලා අඩේ මේ අම්බට්ඨයා මෙච්චර කාලයක් අපිට බොරුවක්නේ කරලා තියෙන්නෙ. මේකා දාසියෙක්ගේ පුතෙක්නෙ. බුමුණො විදියට අපිත් එක්ක බමුණු දහම වේදය ඉගෙන ගත්තානෙ, මන්ත්‍ර ඉගෙන ගත්තානෙ. මේකා කරපු නොසණ්ඩාල වැඩේ, මේකා දාසි පුතෙක් කියාල කෑගැහුවා. මෙච්චර සත්‍යයව පැහැදිලිව, පිරිසිදු විදියට කරුණු සහිතව ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ කරුණු කියද්දි අපි මේකගේ පැත්ත අරගෙන අපි ශ්‍රමණ භවත් ගෞතමයොත් එක්කත් හැප්පෙන්න ගියානෙ. තව ඩිංගෙන් අපිට වෙන වැඩේ මේ දාසි පුත්‍රයා නිසා කියලා කොල්ලො ටික කෑගැහුවා. එතකොට භාග්‍යවතුන් වහන්සේ මහා කරුණාවෙන් කල්පනා කලා මේ අම්බට්ඨයාට දැන් ඔක්කොම දෙස් දෙවොල් තියනවා. පවු මේ අම්බට්ඨයා මංම බේරගන්න ඕන කියලා කල්පනා කරලා කිව්වා තරුණයෙනි, මේ අම්බට්ඨයාට ඔහොම දාසිවාදයෙන් ගරහන්න එපා. මේ අම්බට්ඨගේ ආදී පුරුෂයා වෙන කන්හ ඍෂිවරයා සුළුපටු කෙනෙක් නෙවෙයි. ඔහු මොකද වුනේ ඔහු දක්ෂිණ ජනපදයට ගිහින් බ්‍රහ්ම මන්ත්‍ර හොඳින් ඉගෙන ගත්තා. දක්ෂිණ ජනපදය කියන්නෙ දකුණු ඉන්දියාවනෙ. අදටත් දකුණු ඉන්දියාවෙනෙ මන්තර තියෙන්නෙ. ලංකාව විනාශ කරන්න සියලුම ආක්‍රමණ ආවෙ දකුණු ඉන්දියාවෙන්නෙ. ඊළඟට දොළොස් වසරක බැමිණිතියාසාගතය මන්ත්‍ර බලෙන් උපද්දවපු එකක්නෙ, බ්‍රාහ්මණතීය කියලා. ඒකනෙ බැමිණිතියාසාය කියලා කියන්නෙ. එතකොට ඒ ඔක්කොම දකුණු ඉන්දියාවෙන් ආපුවානෙ. කාලිංඝ මාඝ දකුණු ඉන්දියාවෙන් ආපු අයනෙ. එතකොට මේක දකුණු ඉන්දියාවේ මන්තර ශාස්ත්‍ර කියන ඒවා අද ඊයෙ එකක් නෙවෙයි. එතකොට දැන් බලන්න බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා කන්හ ඍෂිවරයා දකුණු ඉන්දියාවට ඇවිල්ලා මන්තර ඉගෙන ගෙන ඉගෙන ගෙන ඔක්කාක රජතුමා ගාවට ගියා කියනවා. ගිහිල්ලා ඒ ඔක්කාක රජතුමාගේ මට්ටරූපී කියන දියණියව, ඒ රාජකුමාරිකාවක්ගේ නමක් මට්ටරූපී. මට්ටරූපී රාජකුමාරිකාව ඉල්ලුවා මට ඕනෑ මෙයාව කියලා. එතකොට ඔක්කාක රජතුමා හොඳටම කිපුණා. දුන්නයි ඊතලයයි අරන් කිව්වා

දැනගන් තෝ තොගෙ තරම. තෝ දාසියෙක්ගේ පුතෙක් වෙලා ඉඳලා මෙතන එනවා රාජකුමාරියක් ඉල්ලගෙන, දැනගන් තොට කරන වැඩේ කියලා දුන්නයි ඊතලයයි අමෝරලා විදින්න හැදුවා අර කන්හ ඍෂිවරයාට. ඔහු මන්ත්‍ර ශාස්ත්‍රයේ කෙළපැමිණිලා හිටියේ. එතකොට මොකද වුනේ, තරුණයිනි ඒ රජතුමා ඊතලය අමෝරගත්තා විතරයි එහෙම්මම ගල් ගැහුනා. දැන් ඊතලය විදින්න බෑ. එතකොට මැති ඇමැතිවරු ඔක්කොම ගිහිල්ලා කන්හ ඍෂිවරයාගෙන් කිව්වා, අනේ අපේ රජතුමා බේරේවා, සෙතක් වේවා, සෙතක් වේවා, රටට සෙතක් වේවා කියලා. ඊටපස්සෙ රජතුමාට නම් සෙතක් වෙයි, හැබැයි රජතුමා ඔය ඊතලය යට දිසාවට මුදාහැරියොත් මේ රට විනාශ වෙනවා. එතකොට ඇමැතිවරු කිව්වා රජතුමත් බේරෙන්න ඕන, රාජ්‍යයත් බේරෙන්න ඕන. ඔය රජතුමා ඔය ඊතලය අහසට විද්දොත් අවුරුදු හතක් වහින් නෑ. අනේ අපේ රජතුමත් බේරෙන්න ඕන, රටත් බේරෙන්න ඕන, වැස්ස එන්නත් ඕන. එහෙනම් රජතුමාගේ ලොකු පුතාට විදින්න කිව්වා ඊතලය, හරවන්න කිව්වා ඒ පැත්තට. එතකොට ලොමුදැහැගැනීමක්වත් වෙන් නෑ මොකවත් වෙන් නෑ ප්‍රශ්නෙ විසඳෙනවා කිව්වා. එතකොට ඇමැතිවරු ගිහිල්ලා රජතුමා ගල්ගැහිලානෙ ඉන්නෙ හැරෙව්වා ලොකු පුතාගෙ පැත්තට, විදපං රජතුමනි කිව්වා. ඊටපස්සෙ විද්දා. ලොකු පුතාට පුංචිම හානියක්වත් වුනේ නෑ. ඉතින් රජතුමාට සිද්ධ වුනා මට්ටරූපී දියණිය දෙන්න. ඊටපස්සෙ ඒ කන්හ ඍෂිවරයයි මට්ටරූපී බිසවයි එකතු වෙලා තමයි කන්හායන කියන ගෝත්‍රය ඇතිවෙන්නෙ. එයින් එකෙක් තමයි කිව්වා අම්බට්ඨ උඹ. ඉතින් ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා තරුණයෙනි, ඒ වගේ රජවරු පවා බයවෙලා සලිතවෙලා හිටපු කෙනෙක් තමයි ඔය කන්හ ඍෂිවරයා. හරියට ආනුභාවසම්පන්නව හිටියෙ කියලා කිව්වා. ඔන්න අර දාස වාදයෙන් බනින එක එහෙම්මම නැතිවුනා. ඉතින් භාග්‍යවතුන් වහන්සේ අම්බට්ඨ මානවකයා අමතා වදාළා. පිනවත් අම්බට්ඨ උඹ මොකක්ද මේ ගැන හිතන්නෙ. මෙහි ක්ෂත්‍රිය කුමාරයෙක් බ්‍රාහ්මණ දියණියක් සමඟ එකට වාසය කරනවා. ඔන්න රජ කුමාරයෙක් - දැන් මේ තියෙන ප්‍රශ්නෙ මොකක්ද, වංශෙනෙ. වංශෙ ප්‍රශ්නයක් මේ දැන් ආවෙ. බුදුරජාණන් වහන්සේ නෙවෙයි වංශෙ ඇද්දෙ. අම්බට්ඨමයි වංශ ප්‍රශ්නෙ ඇද්දෙ. බමුණො ශ්‍රේෂ්ටයි, බමුණො ශ්‍රේෂ්ටයි කියලා. ඒ කාලෙ ජම්බුද්වීපෙ බමුණො එච්චර ග්‍රහණය කරගෙන හිටියා. දැනටත්, දැනටත් පින්වතුනි, තපෝදාරාමය තියෙනවා රාජගෘහයේ, රජගහනුවර, මගෙ අම්මේ ඒ රජගහනුවර තපෝදාරාමයේ, වේළුවනාරාමයට පොඩ්ඩක් මෙහාපැත්තෙ පාලමක් එක්කම

තියෙන්නෙ. උඩ පොකුණ තියෙනවා, උණුවතුර එන්නෙ. ඒකෙන් බමුණො නාන්නෙ. ඊළඟට ඒ වතුර ටික ගිහිල්ලා පල්ලෙහා ටැංකියට යනවා. ඒකෙ ඊළඟ මිනිස්සු ටික නාන්නෙ. ඔහොම ඔහොම ඇවිල්ලා අවසානෙ කළු වතුරක් එන තැනක් තියෙනවා යටම, අනේ ශුද්‍ර මිනිස්සු, දුප්පත් මිනිස්සු ඒකෙන් නානවා, රෙදි හෝදනවා. ඇස් වලින් දකින්න තියෙනවා පින්වත්නි අදටත්. මේ බමුණො එච්චර ග්‍රහණය කරගත්තා වංශෙන් මේ මුළු සමාජයම. දැන් මේ අම්බට්ඨයාගේ හිසේ මුදුනේ තියෙන්නෙ ඒකනෙ මේ. ඉතින් බුදුරජාණන් වහන්සේ ඇහුවා අම්බට්ඨ රජකුමාරයෙක් බමුණු ගෑණු කෙනෙක් එක්ක කසාද බදිනවා. දරුවෙක් ලැබෙනවා. ඒ දරුවා බමුණන්ගේ පූජා වලදී ගන්නවාද ඒ පූජා වලට? ගන්නවා. මන්තර? පුරුදු කරනවා. ඊගාවට ඒ බමුණන්ගේ අග්‍ර දානය? ඒවා ඔක්කොම දෙනවා. බමුණන්ට ලැබෙන සියලු වරප්‍රසාද? ලැබෙනවා කිව්වා. රජකුමාරයෙකුයි බමුණු කෙල්ලෙකුයි එකතු වෙලා හැදෙන දරුවාට, බමුණන්ගෙන් දෙන්න ඕන ඔක්කොම වරප්‍රසාද ටික ලැබෙනවා. හැබැයි අම්බට්ඨ ඔය දරුවාට රජකම හම්බෙනවාද කියලා ඇහුවා. ස්වාමීනී රජකම හම්බෙන් නෑ කිව්වා. ඇයි ඇහුවා. අම්මගේ පැත්තෙන් කුලය සමාන නෑ කිව්වා. අම්මා බැමිණියක් නිසා පුතාට රජකම හම්බෙන් නෑ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඉතින් අම්බට්ඨ එහෙම බලනකොට බමුණන්ගේ හැම වරප්‍රසාදයක්ම ලැබෙනවා ඒ දරුවට, රජකම හම්බෙන් නෑ, හේතුව අම්මා බැමිණියෙක් නිසා. එහෙනම් අම්බට්ඨ ඔහොම බලනකොට රජකුලය ශ්‍රේෂ්ටයි, බමුණු කුලය දෙවෙනියටනෙ එන්නෙ කිව්වා. හරි අම්බට්ඨ බමුණු කුලෙන් රජකුමාරිකාවක් බඳිනවා. ඒ බමුණු කොල්ලෙක් රජ කුමාරිකාවක් බඳිනකොට ඒ පුතෙක් ලැබෙනවා. මේ පුතාට බමුණන්ගේ පූජා වේද මන්ත්‍ර ඒවා ඔක්කොම දෙනවාද? දෙනවා. බමුණන්ගේ සියලු වරප්‍රසාද ඒ දරුවාට දෙනවාද? දෙනවා. බමුණන්ගෙන් ලැබෙන්න ඕන ඔක්කොම ලැබෙනවා. දැන් අර බමුණු කොල්ලෙකුයි රජ කුමාරිකාවකුයි බැන්දම. හැබැයි ඒ පුතාට රජකම හම්බෙනවාද? ස්වාමීනී රජකම හම්බෙන්නෑ කිව්වා. ඇයි? තාත්තගෙ පැත්තෙන් කුලේ ක්ෂත්‍රිය කුලයට සම්බන්ධ නෑ කිව්වා. ඉතින් එහෙම බලනකොට අම්බට්ඨ බමුණු පැත්තෙන් ලැබෙන්න ඕන හැමදේම ලැබෙනවා, රජකම ලැබෙන් නැනෙ තාත්තා බමුණෙක් නිසා. එහෙනම් ඒ පැත්තෙන් බලනකොටත් බමුණු කුලේ දෙකටනේ ඉන්නෙ, රජකුලේ ඉස්සරහටනෙ එන්නෙ කියලා කිව්වා. හරි අම්බට්ඨ, ඔන්න බමුණෙක් තව බමුණු ගමේ ඉන්න තව කොල්ලෙකුගේ අතින් වරදක් කරලා පන්නනවා ගමෙන්. බමුණෙක් බමුණු

පුතෙක් පන්නනකොට හිස මුඩු කරලා අළු තවරලා පච්ච කොටලා පන්නනවා, පලයං කියලා, වැරැද්දක් කරලා බමුණෙක්. දැන් බමුණන්ගේ බමුණු ශාලාවලට මෙයාව ගන්නවාද. ගන්නෙ නෑ. ඊළඟට යාගහෝම වලට ගන්නෙ නෑ. පුදපූජා නෑ. බමුණු වරප්‍රසාද මොකවත් හිමිවෙන්නෑ කිව්වා. බමුණන්ගෙන් බමුණෙක් පැන්නුවොත්. හරි. අම්බට්ඨ රජකුමාරයෙක් වැරැද්දක් කරලා හිස මුඩු ගාලා අළු තවරලා පන්නනවා. ඒ අය බමුණු ගමකට ආවොත් එහෙම එයාට බමුණු ගමේ යාගහෝමවලට යන්න බැරිද? පුලුවන්. බමුණන්ගේ දාන මාන ගන්න පුලුවන්ද? පුලුවන්. ඊළඟට බමුණන්ගේ වරප්‍රසාද ලැබෙනවාද? ලැබෙනවා. ඉතින් අම්බට්ඨ එහෙම බලනකොට රජ කුලයෙන් පන්නපු එකාටත් බමුණන් අතර ශ්‍රේෂ්ට තැන ලැබෙනවානෙ. ඒ විදියට බලනකොට අම්බට්ඨ බමුණුකුලය එන්නෙ පහළටනෙ, රජ කුලය එන්නෙ ඉහළටනෙ කිව්වා. පුදුම සහගතයි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මෙපමණකින් ක්ෂත්‍රියයා, ඒ කියන්නෙ රජකුලයේ එක්කෙනා අතිශයින්ම නිහීන බවට පත්වෙලා අර රාජ්‍යයෙන් පන්නලා තියෙද්දිනුත්, ඒ කියන්නෙ ක්ෂත්‍රිය රජවරුන් ඔහුව හිස මුඩු කරවලා හිසේ අළු තවරලා රටින් හරි නගරයෙන් හරි පිටුවහල් කරනවා, අම්බට්ඨ ඔය විදියට යම් කලෙක ක්ෂත්‍රියයා අතිශයින්ම නිහීන බවට පත්වෙලා සිටියත් එවේලේදී ක්ෂත්‍රියාමයි ශ්‍රේෂට වෙන්නෙ බමුණු දෙවෙනි තැනට නිහීන පැත්තට වැටෙනවා. ඉතින් අම්බට්ඨ සනංකුමාර බ්‍රහ්මරාජයා ඔන්න ඕක තමයි කිව්වා මේ වාගේ ගාථාවක් වදාළේ. සත්තියෝ සෙට්ඨෝ ජනෝතස්මිං යේගුත්ත පටිසාරිනො, මේ ගෝත්‍රය හොය හෙයා ගියොත් එහෙම වංශ හොය හොයා ගියොත් ක්ෂත්‍රියොමයි ශ්‍රේෂ්ට වෙන්නෙ. විජ්ජාචරණ සම්පන්න වූ යම්කිසි උත්තමයෙක් ඉන්නවාද දෙව්මිනිසුන් අතර ශ්‍රේෂ්ට උන්වහන්සේ කියලා සනංකුමාර බ්‍රහ්මරාජයා ගාථාවක් දේශනා කරලා තියෙනවා. ඉතින් අම්බට්ඨ සනංකුමාර බ්‍රහ්මරාජයා ඔය ගාථාව කියපු එක හරියටම හරි. සනංකුමාර බ්‍රහ්මරාජයාගේ ඔය වචනය සුභාෂිතයක්. සනංකුමාර බ්‍රහ්මරාජයාගේ ඔය වචනය දුබ්භාෂිතයක් නෙවෙයි. අම්බට්ඨ අර්ථ සහිතයි, අනර්ථයක් නෙවෙයි, අම්බට්ඨ සනංකුමාර බ්‍රහ්මරාජයාගේ ඒ වචනය මම ද දේශනා කරනවා. කත්තියෝ සෙට්ඨෝ ජනෝතස්මිං යේ ගුත්ත පටිසාරිනො විජ්ජාචරණ සම්පන්නො, විජ්ජාචරණ සම්පන්න කෙනා මේ ලෝකයේ සියලු දෙනා අතර ශ්‍රේෂ්ටයි. ගෝත්‍රය සිහි කරගෙන යනකොට ක්ෂත්‍රියයන් තමයි ශ්‍රේෂ්ට කියලා. ඉතින් මේ විදියට කියා හිටිනකොට අම්බට්ඨ, අම්බට්ඨ එහේම්මම ඉඳගත්තා. අම්බට්ඨ එහේම්මම වැඳගෙන අහනවා ස්වාමිනී මට

කියලා දෙන්න මොකක්ද ඔය විජ්ජාචරණ සම්පන්න කියන්නෙ කියලා. ඇයි දැන් ගෝත්‍රය සිහි කරගෙන යනකොට ක්ෂත්‍රියයො ශ්‍රේෂ්ටයි කියන එක දැන් ඔප්පු වුනානෙ. දැන් කියනවා මට කියලා දෙන්න විජ්ජාචරණ සම්පන්නයි කියන්නෙ මොකක්ද, චරණය කියන්නෙ මොකක්ද, විජ්ජාව කියන්නෙ මොකක්ද? අම්බට්ඨ, අනුත්තර වූ විජ්ජාචරණ සම්පත්තියේදී නුඹ මට සුදුසුයි කියලා හෝ නුඹ මට නුසුදුසුයි කියලා හෝ ජාතිවාදය කතා කරන්නෙ නෑ. නුඹ මට සුදුසුයි, නුඹ මට සුදුසු නෑ කියලා ජාතිවාදය කතා කරන්නෑ. ඉතින් ඔය මට නුඹ මට සුදුසුයි, නුඹ මට සුදුසු නෑ කියලා කියන එකට තමයි ජාතිවාදය කියලා කියන්නෙ. ගෝත්‍රවාදය කියන්නෙ, මැනිංවාදය කියන්නෙ. නමුත් අම්බට්ඨ, යම්තැනක ආවාහ විවාහ වෙනවා නම් ආවාහ විවාහ වෙන තැන අන්න එතන නම් නුඹ මට සුදුසුයි නුඹ මට සුදුසු නෑ කියලා කතා කරනවා, ඒක තමයි ජාතිවාදය, ඒක තමයි ගෝත්‍රවාදය. ඒක තමයි මැනිංවාදය. පින්වත් අම්බට්ඨ, යම් කෙනෙක් ජාතිවාදයට බැඳිලා ගිහින් හෝ ගෝත්‍රවාදයට බැඳිලා ගිහින් හෝ මැනිංවාදයට බැඳිලා ගිහින් හෝ ආවාහ විවාහයට බැඳිලා ගිහින් හෝ ඉන්නවාද ඔවුන් අනුත්තර වූ විජ්ජාචරණ සම්පත්තියෙන් ගොඩාක් දුරු වෙලා ඉන්නෙ අම්බට්ඨ. පින්වත් අම්බට්ඨ, ජාතිවාදයට ඇති බැඳීමත්, ගෝත්‍රවාදයට ඇති බැඳීමත්, මැනිංවාදයට ඇති බැඳීමත්, ආවාහ විවාහයට ඇති බැඳීමත් අත්හැරලාම තමයි අනුත්තර වූ විජ්ජාචරණ සම්පත්තිය සාක්ෂාත් කිරීම තියෙන්නෙ කියලා බුදුරජාණන් වහන්සේ අම්බට්ඨට විස්තර කරනකොට ආයෙත් අම්බට්ඨ කියා හිටියා ස්වාමීනී අනේ මට කියලා දෙන්න විජ්ජාව කියන්නෙ මොකක්ද, චරණය කියන්නෙ මොකක්ද. ඒ වෙලාවේ ලෝකයේ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙලා භාග්‍යවතුන් වහන්සේගේ ශාසනයේ ශ්‍රාවකයෙක් විජ්ජාචරණ සම්පන්න බවට පත්වෙන හැටි බුදුරජාණන් වහන්සේ වදාළා. ඊළඟට මේ අම්බට්ඨයා, අම්බට්ඨයා බුදුරජාණන් වහන්සේ ඉදිරියේ නිෂ්ප්‍රභා වෙලා ගිහිල්ලා දැනටමත්, තව තවත් නිෂ්ප්‍රභා වී යන හැටි ඉදිරියට විස්තර වෙනවා. මොහුගේ ගුරුවරයා වූ පොක්ඛරසාතීගේ තියෙන පැටිකිරිය නැත්නම් පොක්කරසාතී බමුණෙක් විදියට මවාගෙන හිටපු ඒ කුලමාන්නය සුන්නද්ධූලි වෙලා ගිහිල්ලා බුදුරජාණන් වහන්සේ ඉදිරියේ දමනය වී අහිංසක හා පැටියෙක් වගේ අහිංසක සිතකින් වාසය කරන කතන්දරය අපි ඊළඟ දවසේ ඉගෙන ගන්නවා. මේ සූත්‍රයේ ඉතුරු කොටස අපිට ඉගෙන ගන්න වෙන්නෙ ඊළඟ දවසේ. දීඝ නිකායේ අම්බට්ඨ සූත්‍රයේ, මුලින්ම අම්බට්ඨගේ මාන්නය දමනය

කරන හැටි තමයි තියෙන්නෙ. පුදුම සහගතයි, අපේ ශාස්තෘන් වහන්සේ ගැන කොච්චර අභිමානයක් ඇතිවෙනවාද. ඒ කාලයේ ඉතාමත් සොඳුරු වචනයෙන් අර්ථ ඉස්මතු වෙන විදියට බුදුරජාණන් වහන්සේ කතා කරන්නෙ. දැන් අපි මේක කියනකොට අපේ හිතට එන හැඟීමත් එක්කනෙ උඹ බං බොලං දැනගනිං අම්බට්ඨයා කියලා අපි පාවිච්චි කරන්නෙ. ඒ අපේ වචනත් එක්කලා ඒක මුහුවෙලා යන නිසා. නැත්නම් ඒ කාලෙ ඉතාමත් වැදගත් විදියට ශාස්තෘන් වහන්සේ ඒ අර්ථ ඉස්මතු වෙන විදියට තමයි මේ දහම් කරුණු පවසන්නෙ. ඉතින් කොහාමහරි මේකෙ අවසානෙ, හරි සුන්දරයි මේකෙ අවසානෙට මේ දේශනාව. මාන්නෙ, කුල, වංශ වල තියෙන හිස් බව, කුල වංශ වල තියෙන හිස් බව පුදුම විදියට ප්‍රකට වෙනවා. හැබැයි යම්කිසි කෙනෙක් ධර්මය අවබෝධ කරගෙන ධර්මයෙන් තමන්ගේ හිත විජ්ජාචරණ සම්පන්න කරගත්තොත් ඔවුන් නම් දෙව් මිනිස්සු අතර ශ්‍රේෂ්ට බවට පත්වෙනවා. ඇත්තටම අපේ ජීවිතේ යම් ශ්‍රේෂ්ට බවක් තියෙනවා නම් ඇතිවෙනවා නම්, ඇතිවෙන්න තියෙනවා නම් බුදුන් සරණ යෑමෙන්මයි. ධර්මය සරණ ගියොත්මයි, සංඝරත්නය සරණ ගියොත්මයි. මේ බලන්න මේ විස්තර අහනකොට අපේ ජීවිතේ කොච්චර අලුත් වෙනවාද කියලා. අපේ ජීවිතේ කොච්චර වෙනස් වෙනවාද කියලා. හැමදාම මේ විස්තර අපිට අහන්න ඇත්නම්, නොකඩවා මේ විස්තර අහන්න ඇත්නම්, අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ මේ ලෝකයේ හිස් දේවල් මැඩපවත්වාගෙන තථාගත ශ්‍රී සද්ධර්මය බබළවපු හැටි අපිටත් අහලා හිත පහදවාගෙන අපේ පහන් සිතින් දිවි තිබෙන තුරු නිවන් දකින තුරු බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හැමදාම හිතන්න ඇත්නම් කොච්චර එකක් ද. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ශ්‍රී සද්ධර්මය මම සරණ යනවා කියලා හිතන්න ඇත්නම් කොච්චර එකක් ද. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ඒ ආර්ය මහා සංඝරත්නය මම සරණ යනවා කියලා හිතන්න ඇත්නම් කොච්චර එකක් ද. මේ උතුම් තිසරණය දිවි තිබෙන තුරු නිවන් දකින තුරු අපගේ ජීවිතයට එකම පිළිසරණ වේවා කියලා අද සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් පින්වත්නි අද අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන අපි කතා කළේ අම්බට්ඨ සූත්‍රයේ මුල් බණවර. දෙවෙනි බණවර ඉදලා අපි හෙට කතා කරනවා. ඉතින් අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහනට අද දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ සිඩ්නි නුවර පදිංචි පින්වත් සාමාවතී අබේසිංහ මහත්මිය ඇතුලු දූදරුවන් පිරිස. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා.

දෙවියන්ගේ දිව්‍ය යසඉසුරු වඩා වර්ධනය වෙත්වා. මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම මියපරලොව ගිය ඩබ්ලිව්.එම්. සීලවතී මෑණියන්ට, කේ.ඒ.කේ.එම්. අප්පුහාමි පියාණන්ට, හෙන්රි පීරිස් ස්වාමිපුරුෂයාට සහ රණශීලී මල්ලිකා සොහොයුරියට පින් අනුමෝදන් කිරීමට මෙය අවස්ථාවක් කරගන්නවා. කවුරුත් නමින් මියපරලොව ගිය සියලු ඥාතීන් පරලොව සැපයට පත්වේවා. ඒ වගේම මෙච්චර සොඳුරු පිරිසිදු ශ්‍රී සද්ධර්මයක් අපේ අතීතයේ මුතුන් මිත්තන්ට, දෙමව්පියන්ට, නෑදෑයන්ට කියවගන්න, ඒ ඇත්තන්ට අහන්නවත් ලැබුන් නෑ. එතකොට මේ වගේ අම්බට්ඨ දමනය වගේ විස්තරයක් අහන්නවත් ලැබිලා නැතිව ඇති. ඉතින් අපිට මේ ශ්‍රී සද්ධර්මය විවෘත වුනේ මේ විදියට, දැන් පුංචි එකා පවා අහනවා. පොඩි ඈයො බණ අහනවා, පොඩි ඈයන්ට බණ මතකයි. පරම පූජනීය ලොකු ස්වාමීන් වහන්සේ නිසා මේ සම්පත්තිය අපිට ලැබුනෙ. ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂම ලබත්වා කියලා පින් පමුණුවන්නට ඕන අපි. ගුරුදෙවිඳුන් ඇතුළු සියලු ස්වාමීන් වහන්සේලාට සඟරුවනට, ඒ වගේම අනගාරිකා මෑණිවරුන්, පැවිදි අපේක්ෂක දූපුතුන්ට මේ පින් අනුමෝදන් වී ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම ඔස්ට්‍රේලියාවේ පදිංචි සිඩ්නි නුවර පින්වත් සාමාවතී අබේසිංහ මහත්මිය ඇතුළු දූදරුවන්ට මේ අප්‍රමාණ පින අනුමෝදන් වේවා, අසිරිමත් සම්බුදු සරණේ ආනුභාවය ලෝකයට අහන්න සැලැස්වීමේ පින. ඒ වගේම අපගේ මව්දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට, ඔබ අප කාටත් ශ්‍රද්ධා රූපවාහිනිය ලක්විරු ගුවන්විදුලිය කාර්ය මණ්ඩලය, ශ්‍රවණය කරන ඔබ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වෙත්වා. අපි කාටත් අසිරිමත් සම්බුදු සරණින් සැනසී ගෞතම සසුනේ පිහිට ලබන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=Em9O01zgEAI&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=79

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් කලාතුරකින් ලෝකෙට පහළ වෙන සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකගේ ඒ සම්බුද්ධත්වයේ ආනුභාවය තමයි ඔබ මේ ශ්‍රවණය කරන්නෙ. ඉතින් ඒ නිසා අද දවසේ මේ උතුම් දහම් වැඩසටහනින් අසිරිමත් දහම් විස්තරයක් ඔබට අහන්න සළස්වන්නේ අංක 23/බී, දෙවෙනි පටුමග, මහබාගේ යන ලිපිනයේ පදිංචි පින්වත් මිථිලා ගුණසේකර මහත්මිය, රවීන්ද්‍ර ජයසූරිය මහත්මයා, සෙනෙතු බිම්සත් පුතා සහ සෙතුමි සෙහංසා දියණිය විසින්. මේ ඇත්තන් බොහෝ පින් රැස් කරගන්නවා අද දවසේ ධර්ම දානය ඉෂ්ට සිද්ධ කරලා. ඉතින් පින්වත්නි, සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ලෝකයට පහළ වෙලා ඒ උතුම් ධර්ම චක්‍රය ප්‍රවර්තනය කරද්දි, සංසාර චක්‍රයෙන් කැරකි කැරකී සසරට වැටුනු කෙලෙස් වලින් පීඩිත වෙලා කෙලෙස් වලින් කැරකි කැරකී යන සත්ත්වයාගේ සංසාර ගමන ධර්ම චක්‍රයෙන් සිඳලුවා. එතකොට අපි මීට කලින් දහම් වැඩසටහන් වලදි කතා කලා බමුණු දහම, බ්‍රාහ්මණ වාදය මුළු ජම්බුද්වීපය පුරාම පැතිරිලා තිබෙද්දි බමුණු කුල මාන්නයෙන් සමාජ ආධිපත්‍යයෙන් අන් ජනයා මැඬගෙන ඔවුන් වැජඹෙද්දි බුදුරජාණන් වහන්සේගේ දහම් තේජස ඔවුන් කරා පැතිරුනා. ඔවුන්ගේ මාන්නය සිඳී ගියා. හරියට හිරු මඬලක් පෑව්වට පස්සෙ තණ අග තියෙන පිණි බිංදුවක් වාෂ්ප වෙනවා වාගේ. අම්බට්ඨ නැමැති බ්‍රාහ්මණ තරුණයෙක් බ්‍රාහ්මණ යැයි කියාගන්නා තරුණයෙක් බුදුරජාණන් වහන්සේ ඉදිරියේ කළ විකාර කටයුතු වල ස්වභාවයක් අපි ඊයේ දහම් වැඩසටහනින් කතා කලේ. බුදුරජාණන් වහන්සේ ඉච්ඡානංගල ජනපදයට කෝසල ජනපදයේ වැඩම කල අවස්ථාවේ

උක්ඛට්ඨාවේ හිටියා පොක්කරසාති කියලා බ්‍රාහ්මණයෙක් බොහෝ බමුණන්ට ආචාර්‍ය්‍ය ප්‍රාචාර්‍ය්‍ය වෙලා. ඔහුට බුදුරජාණන් වහන්සේ ගැන අහන්න ලැබිලා, බුදුරජාණන් වහන්සේ කියන්නෙ ඇත්තටම ගුණ තියෙන කෙනෙක්ද, නැති කෙනෙක්ද කියලා බලන්න පොක්කරසාතී තමන්ට සම සමව ගරු කරන තමන් හා සමාන යැයි සිතාගෙන සිටින ශිෂ්‍යයෙක් වුන අම්බට්ඨයන් යවනවා භාග්‍යවතුන් වහන්සේ ළඟට. බුදුරජාණන් වහන්සේ ඉන්න තැනට අම්බට්ඨ ගිහිල්ලා, අම්බට්ඨ බුදුරජාණන් වහන්සේ එක්ක කතා කරන්නෙ හිටගෙන ඇවිද, ඇවිද. වාඩිවෙලා අසුන් ගෙන ඉන්න බුදුරජාණන් වහන්සේට සක්මන් කරමින්, ඉඳ ගනිමින්, හිටගනිමින් කතා කරනවා අම්බට්ඨ. ඒකට හේතුව බුදුරජාණන් වහන්සේට අගෞරව කලා. බුදුරජාණන් වහන්සේ අහනවා නුඹ නොහික්මුණු කෙනෙක් වගේ. ඊට පස්සෙ අම්බට්ඨ ශාක්‍ය කුලයට ගරහනවා. බුදුරජාණන් වහන්සේ තුන් වතාවක් ශාක්‍යයන්ට ගරහද්දි ඇහුවා අම්බට්ඨ උඹගේ කුලගෝත්‍රය මොකක්ද? ඊට පස්සෙ කිව්වා කන්හායන ගෝත්‍රය, කන්හායන කියන කෙනා අතීතයේ හටගනිද්දි, බුදුරජාණන් වහන්සේ ශාක්‍ය කුලයේ සම්භවය විස්තර කරලා ඒ ශාක්‍ය කුලයේ රජ කෙනෙකුට දාව දාසියෙකුගේ කුසින් ඉපදුනු දරුවෙක් නේද කියලා කිව්වා ඔය කන්හායන, දාසි පුත්‍ර. ඊට පස්සෙ මේකට අම්බට්ඨට කරකියාගන්න දෙයක් නැතිවෙනවා. තුන්වෙනි වතාවෙත් මේක ඇත්තද, නැත්තද කියලා අහනකොට වජ්‍රපාණි යක්ෂයා ආකාශෙ පෙනී හිටියා, උඹ උත්තර දීපන් නැත්නම් හිස පලනවා කියලා. ඒ වෙලාවේ අම්බට්ඨ පිළිගත්තා ඒ කතාව ඇත්ත කියලා. ඊට පස්සෙ තමන් එක්ක පැමිණි තරුණයෝ අම්බට්ඨට දාසවාදයෙන් ගරහද්දි බුදුරජාණන් වහන්සේ කන්හායන ඍෂිවරයාගේ තිබ්බ මන්ත්‍ර බලය ගැන විස්තර කලා. ඊට පස්සෙ බුදුරජාණන් වහන්සේ ඒ වෙලාවේ විස්තර කලා මොන ක්‍රමයෙන් ගත්තත් රජ කුලය තමයි ශ්‍රේෂ්ට වෙන්නෙ කියලා රජකුලයේ ප්‍රධාන බව ඉස්මතු කලා. සනංකුමාර බ්‍රහ්මරාජයා පවා කත්තියෝ සෙට්ඨො ජනෝතස්මිං යො ගොත්ත පටිසාරිනො, යම් කිසි කෙනෙක් ගෝත්‍රය සිහි කලොත් රජ කුලය තමයි ශ්‍රේෂ්ට වෙන්නෙ කියලා, විජ්ජාචරණ සම්පන්න උත්තමයන් තුන්ලෝකෙම ශ්‍රේෂ්ටයි කියලා සනංකුමාර බ්‍රහ්මරාජයාගේ ප්‍රකාශය බුදුරජාණන් වහන්සේ සිහි කලා. ඒ වෙලාවේ අම්බට්ඨ අහනවා ස්වාමීනී, විද්‍යා කියන්නෙ මොකක්ද, චරණ කියන්නෙ මොකක්ද. බුදුරජාණන් වහන්සේ වදාළා මෙය පිළිගන්නවා, මෙය පිළිගන්නෙ නෑ කියලා ගෝත්‍රවාද, ජාතිවාද, ආවාහ විවාහ වාද කරන අයට විජ්ජාචරණ සම්පන්න කියන එක ගැන තේරුම් ගන්න

බෑ. ඒ වෙලාවේ අම්බට්ඨ කියනවා ස්වාමීනී, අනේ මට කොහොම නමුත් කියලා දෙන්න මොකක්ද විජ්ජාව කියන්නෙ, මොකක්ද චරණ කියන්නෙ. අන්න එතන ඉඳලා තමයි අද ධර්ම දේශනාව ආරම්භ වෙන්නෙ. ඔය කෙටියෙන් සිහි කලේ ගිය පාර දහම් වැඩසටහනේ කොටසක්. අද තමයි අපූරු විස්තරය තියෙන්නෙ. විජ්ජාචරණ සම්පන්න ගුණයත් විස්තර වෙනවා. පොක්කරසාතීගේ පැටිකිරියත් විස්තර වෙනවා. අවසානෙදි ඒ ඇත්තො බුදුරජාණන් වහන්සේ සරණ යන හැටි විස්තර කරනවා. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ වදාළා එහෙනම් අම්බට්ඨ අහගන්න, අම්බට්ඨ කලාතුරකින් ලෝකෙට පහළ වෙනවා අරහං වූ සම්මා සම්බුද්ධ වූ විජ්ජාචරණ සම්පන්න වූ සුගත වූ ලෝකවිදූ වූ අනුත්තර පුරිසදම්ම සාරථී වූ සත්තා දේවමනුස්සානං වූ බුද්ධ වූ භගවා වූ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ ලෝකෙට පහළ වෙනවා. දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ තථාගතයන් වහන්සේ තමා තුළින් උපදවාගත්තු ඥාණයෙන් ධර්මය සාක්ෂාත් කරගෙන මුල මැද අග පිරිසිදු ශ්‍රී සද්ධර්මය දේශනා කරනවා මුළුමනින්ම පිරිසිදු නිවන් මග බඹසර ප්‍රකාශ කරනවා. එතකොට ගෘහපති පුත්‍රයෙක් වේවා, ගෘහපතියෙක් වේවා, පුත්‍රයෙක් වේවා, මොනවාහරි කමක් නෑ කුලයක ඉපදිලා, මොන කුලයෙන් හරි එයා ඒ බණ අහනවා. ඒකයි ඔන්න ඉස්සෙල්ලාම පින්වතුනි මොන කුලේ වුනත් කමක් නෑ, මොන වංශයේ වුනත් කමක් නෑ, මොන ජාතියේ වුනත් කමක් නෑ, ඉස්සෙල්ලාම කරන්න ඕන ධර්මය අහන්න ඕන. සො ධම්මං සුත්වා තථාගතේ සද්ධාපටිලභති, ඔහු ධර්මය අහලා තථාගතයන් වහන්සේ ගැන ශ්‍රද්ධාව උපද්දවගන්නවා. එහෙනම් සැබෑ ශ්‍රද්ධාව කියන එක උපදින්නේ කොහොමද? ධර්මය ඇහුවොත්. ඒ නිසා මේ මිහිරි ශ්‍රී සද්ධර්මය අනේ අපගේ සතුරන්ටද, මිතුරන්ටද අහන්න ලැබෙනවා නම් ඒක කොයිතරම් හොඳ ද. ඊටපස්සෙ එයා ශ්‍රද්ධාව උපද්දවාගෙන ශ්‍රද්ධාලාභයෙන් සමන්නාගත වෙලා කල්පනා කරනවා සම්බාදෝ ගරාවාසෝ රජෝකතෝ, මේ ගිහිගෙදර වාසය කිරීම හරී බාධා සහිතයි, කෙලෙස් සහිතයි. අබ්බොකාසො පබ්බජ්ජා. ආකාසය වගේ ප්‍රව්‍රජාව, පැවිදි ජීවිතේ. ඊළඟට ඒකාන්ත පාරිශුද්ධ වූ පිරිපූර්ණ වූ පිරිසිදු බඹසර නිවන් මාර්ගය ගෙදර ඉඳලා වඩන්න අමාරුයි කියලා එයා කෙස් රැවුල් බාලා මහණ වෙනවා. අල්ප වූ ද මහත් වූ ද භව භෝග අත්හැරලා, අල්ප වූ ද මහත් වූ ද ඥාති පරිවට්ඨය අත්හැරලා ඔහු මහණ වෙනවා. මහණ වෙලා සිල් පද ආරක්ෂා කරනවා. මනා ඇවතුම් පැවතුම් වලින් යුක්ත වෙනවා. ශික්ෂාපද වල හික්මෙනවා. කායික වාචසික මානසික සංවරයෙන් යුක්ත වෙනවා. ඉඳුරන්හි

වැසූ දොරටු ඇතිව වාසය කරනවා. නුවණින් ආහාර ගන්නවා. සිහිනුවණින් යුක්තව ලද දෙයින් ඉන්නවා. ඊටපස්සෙ සීලයෙන් කොහොමද වෙන්නෙ කියලා ආර්ය වූ සීලය විස්තර කරනවා. ඔහු සත්තු මරන්නැති හැටි, හොරකම් කරන් නැති බව, බ්‍රහ්මචාරීව වාසය කරන බව, බොරු කේලම් හිස් වචන, පරුෂ වචනයෙන් වැළකී සිටින බව, ඊළඟට විකාල භෝජන, නච්චගීත වාදිත වලින් වැළකී වාසය කරන බව, උච්චාසයන මහාසයන වලින් වැළකී වාසය කරන බව. මිත්‍යා ආජීවයෙන් වැළකී වාසය කරනවා. ඒ තමයි එක එක නැකැත් නිමිති කේන්දර ඒවගෙන් ජීවත් වෙන ඒවා, දෙතිස් කතාවෙන් ජීවත් වෙන ඒවා, ඒවා ඔක්කොම අත්හැරලා පිරිසිදු ජීවිතයකින් යුක්ත වෙනවා. කුහකකමින් අන් අය පොළඹවාගෙන අන් අයගේ තියෙන ධනය කඩාවඩාගෙන ජීවත් වෙන්නෙ නෑ නිවන් දකින්න කැමැති කෙනා. පලාඵල බලලා එක එක අනාවැකි, නැකැත් නිමිති කේන්දර ලකුණු අංග ලක්ෂණ විද්‍යා අන් අයට කියලා ඒක තුළින් ජීවත් වෙන්නෙ නෑ. ඒ වගේම ශ්‍රද්ධාවෙන් දුන්නු දානය වළඳලා රජවරුන්ට පණිවිඩ පණත් ගෙනියලා ඒකෙන් ජීවත් වෙන්නෙත් නෑ. චන්ද්‍රග්‍රහණ සූර්යග්‍රහණ ආදිය ගැන කියලා වැහි වදින කාලෙ කාලගුණ විද්‍යාවේ විස්තර කියලා ජීවත් වෙන්නෙ නෑ, ජේන කියලා අඳුන් බලලා ඒවගෙන් ජීවත් වෙන්නෙ නෑ. ඊළඟට අණවින කොඩිවින කරලා ජීවත් වෙන්නෙ නෑ. නිවන් දකින්න කැමැති කෙනා. වාස්තු විද්‍යාවෙන් ජීවත් වෙන් නෑ. හොඳ සීල සම්පන්නයකින් යුක්ත වෙලා අම්බට්ඨ රජ කෙනෙක් සතුරන් රහිතව තමන්ගේ රාජ්‍යය පාලනය කරනවා වගේ සීල සංවරය තියෙන කෙනා කිසීම උවදුරක් නැතිව වාසය කරනවා කිව්වා. ඉතින් අම්බට්ඨ මේ බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයා ඉඳුරන්හි වැසූ දොරටු ඇතිව වාසය කරනවා. ඇස් වලින් රූප බලලා ඒ රූප වලින් හිත ඇවිස්සිලා යනවා නම් කැළඹිලා යනවා නම් එවැනි රූප වලින් ඇහැ සංවර කරනවා. කණ ඇවිස්සෙනවා නම්, නාසය ඇවිස්සෙනවා නම්, දිව ඇවිස්සෙනවා නම්, කය ඇවිස්සෙනවා නම්, මනස ඇවිස්සෙනවා නම් අවුල් සහගත දේවල් වෙනවා නම්, නැති අර්බුද හටගන්නවා නම් ඇතුලේ රාගය, ද්වේෂය වාගේ කලකොලොප්පං ඇතිවෙනවා නම් ආන්න එවැනි රූප, ශබ්ද, ගන්ධ, රස, පහස වලින් ඇස කණ නාසය දිව කය මනස සංවර කරනවා. අකුසල් වලින් වැළකූ දොරටු ඇතිව වාසය කරනවා. ඒ වගේම මනා සිහිනුවණින් යුක්ත වෙනවා. ඉදිරියට එනකොට, ආපස්සට එනකොට, අතපය අකුළුවනකොට, ඉරියව් පවත්වනකොට කෙලෙස් හටගන්න දෙන් නෑ, සිහි නුවණ පවත්වනවා. අම්බට්ඨ භික්ෂුව ලද දෙයින් සතුටු වෙනවා. කුසට සෑහෙන ආහාරයෙන් ඊළඟට තමන්ගේ කයට සරිලන

සෙනසුන ඒ විදියට පාසිවුරු අරගෙන ලද දෙයින් සිවුපසයෙන් සතුටු වෙනවා. අම්බට්ඨ මේ විදියට සීලස්කන්ධයෙන් යුක්ත වෙලා ආර්ය වූ, ආර්ය වූ ඉන්ද්‍රිය සංවරයෙන් යුක්ත වෙලා, ආර්ය වූ සිහිනුවණින් යුක්ත වෙලා, ආර්ය වූ ලද දෙයින් සතුටු වෙලා හුදෙකලාවේ සෙනසුන් වල වාසය කරනවා, ඔන්න ඔය ටික ඔක්කොම සම්පූර්ණ වුනාම තමයි කැලේ යන්නෙ. විවේකයෙන් ඉන්නෙ, තනියෙන් ඉන්නෙ. කියන්නෙ ආර්ය සීලස්කන්ධය පුරුදු වෙන්න ඕන. ආර්ය ඉන්ද්‍රිය සංවරය පුරුදු වෙන්න ඕන. ආර්ය සිහිනුවණ පුරුදු වෙන්න ඕන. ආර්ය වූ ලද දෙයින් සතුටු වීම පුරුදු වෙන්න ඕන. ඊටපස්සෙ තමයි විවේක සෙනසුන්, වන, ගිරිගුහා, ලෙන්, සුසානභූමි ඒවා ඇසුරු කරන්නෙ. පිණ්ඩපාතෙ වළඳලා හවස් කාලෙ කය සෘජු කරගෙන මේ ලෝකෙ අවිජ්ජා දෝමනස්ස කරුණු වලින් හිත නිදහස් කරගෙන නීවරණ පහ බැහැර කරමින් වාසය කරනවා. ඒ තමයි කාමච්ඡන්ද, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්චකුක්කුච්ච, විචිකිච්ඡා. ඉතින් යම් දවසක මේ පඤ්ච නීවරණ හිතෙන් දුරුවෙනවාද ඒ දුරු වෙනකොට ඒ පඤ්ච නීවරණ නැතිවීම, හිතෙන් නිදහස් වීම හිත පිරිසිදු වීම මේ වගේ කියනවා. අම්බට්ඨ, ණයක් අරගෙන කෙනෙක් වාසය කරනවා. ණයක් අරගෙන එයා වාසය කරලා පස්සෙ කාලෙ ඒ ණයෙන් හොඳට ව්‍යාපාරයක් දියුණු පමුණු කරගෙන සල්ලි, ධනය එකතු වෙනවා. එයින් ණය ගෙවනවා, තවත් ඉතිරියි. හරි සන්තෝෂයි. ණයෙන් නිදහස් වුනා වගේ කියනවා නීවරණ වලින් නිදහස් වීම. ඒ වගේම යම්කිසි කෙනෙක් රෝගී වෙලා ඉඳලා බෙහෙත් අරගෙන හොඳට සුවපත් වෙලා කිසිම රෝගයක් නැති මට්ටමට පත්වෙනවා. එතකොට රෝගයකින් නිදහස් වුනා වගේ කියනවා, නීවරණ යටපත් වීම. ඊළඟට පුද්ගලයෙක් හිරේ විලංගුවේ වැටිලා හිරෙන් නිදහස් වෙනවා කිසිම ධනයකට හානි වෙලා නෑ, ධනයකට හානි නොවී හිටපු මට්ටමට පත්වෙන හිරෙන් නිදහස් වෙනවා වගේ කියනවා, ඒ වගේම අම්බට්ඨ දාසයෙක් වෙලා ඉඳලා දාස බවින් නිදහස් වුනා වගේ කියනවා. ඒ වගේම අම්බට්ඨ කාන්තාරයකට ගිහිල්ලා කාන්තාරයෙන් එතෙර වුනා වගේ කියනවා. ආන්න ඒ විදියට පඤ්ච නීවරණ එයා දකිනවා ණයක් ගත්තා වගේ, ලෙඩ වෙලා වගේ, හිරේ වැටුනා වගේ, දාසයෙක් වගේ, කාන්තාරෙකට ගොඩවුනා වගේ, පඤ්ච නීවරණ දැකලා එයින් නිදහස් වීම දකිනවා කිව්වා ණයෙන් නිදහස් වුනා, ලෙඩින් සනීප වුනා, ඊළඟට දාස බවින් මිදුනා, ඒ වගේම කාන්තාරෙන් එතෙර වුනා, වහල් බවින් මිදුනා කියලා මේ විදියට දකිනකොට හිතට ගොඩාක් ප්‍රීතිය උපදින්න ගන්නවා. මේ ආකාරයෙන් පඤ්ච නීවරණයන් තමා තුළ නැති බව දකිද්දි මහත් සතුටක්

ඇතිවෙනවා. ඒ ප්‍රමුදිත වීම ඇති කෙනාට ප්‍රීතිය ඇතිවෙනවා. පාමොජ්ජං පටිච්ච පීති ජායති, පාමොජ්ජය හේතු කරගෙන ප්‍රීතිය උපදිනවා. ප්‍රීති මනසක් ඇති කෙනාගේ කය සංසිඳෙනවා. කය සංසිඳෙනකොට සැපක් විඳිනවා. සැප ඇති කෙනාගේ හිත සමාධිමත් වෙනවා. ඔහු කාමයන්ගෙන් වෙන්ව, අකුසලයන්ගෙන් වෙන්ව විතක්ක විචාර සහිත වූ විවේකයෙන් හටගත් ප්‍රීති සුඛය ඇති පළවෙනි ධ්‍යානය උපදවාගෙන වාසය කරනවා. මුළු කයම විවේකයෙන් හටගත්තු ප්‍රීතියෙන් තෙත් වෙනවා. මුළුමනින්ම තෙත් වෙනවා. පිරෙනවා. පිරිපුන්ව පිරී යනවා. ඔහුගේ මුළු කයේ විවේකයෙන් හටගත්තු ප්‍රීති සුඛය ස්පර්ශ නොවිච්ච තැනක් නෑ. මුලු රෝම කූපයක පවා විවේකයෙන් හටගත්තු ප්‍රීති සුඛය පැතිරෙනවා, ඇඟ සීතල වෙලා යනවා, පළවෙනි ධ්‍යානය. අම්බට්ඨ උපමාවක් කියන්නම්, නානසුණු තියෙනවානෙ. නානකොට ඇඟේ ගාන කුඩු වර්ග, ඒක භාජනයකට දාලා වතුර ඉහල ඉහල ඒක ගුලි කරනවා. ගුලි කරනකොට ඒ වතුර වලින් පෙඟිච්ච නැති තැනක් නෑ. ඒ වගේ විවේකයෙන් හටගත්තු ප්‍රීති සුඛයෙන් ඇඟේ රෝම කූප පවා තෙත් වෙලා යනවා පළවෙනි ධ්‍යානයෙන්.ආන්න අම්බට්ඨ ඔය විදියට පළවෙනි ධ්‍යානය උපදවා ගත්තට පස්සෙ අම්බට්ඨ ඒකට නම් කියන්න පුලුවන් චරණ කියලා. ඔන්න චරණ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා අම්බට්ඨ විතක්ක විචාර සංසිඳවලා සිතේ එකඟ බවින් ඇතිවෙච්චි විතක්ක විචාර රහිත සමාධියෙන් හටගත්ත ප්‍රීති සුඛය ඇති දෙවෙනි ධ්‍යානයට පත්වෙනවා. සමාධියෙන් හටගත්තු ප්‍රීති සුඛය මුළු ඇඟම තෙත්වෙනවා. ශරීරයම තෙත් වෙනවා. සම්පූර්ණයෙන්ම ජීවිතේම තෙත් වෙලා යනවා. සමාධියෙන් හටගත්තු ප්‍රීති සුඛයෙන්. පළවෙනි ධ්‍යානයේ තියෙන්නෙ විවේකයෙන් හටගත්තු ප්‍රීති සුඛය. අම්බට්ඨ උපමාවක් කිව්වොත් එහෙම ඔන්න පොකුණක් තියෙනවා, පොකුණට පිටින් වතුර එන් නෑ, ඇතුලෙන් තමයි උල්පත් තියෙන්නෙ. ඇතුලෙන්ම එන උල්පත් වලින් සීතල වෙවී සීතල වෙවී තියෙනවා පොකුණ, ඒ වගේ දෙවෙනි ධ්‍යානයට යාම, ඇතුලෙන්ම හටගන්න සමාධියෙන් තෙත් වෙවී තෙත් වෙවී සැනසිල්ලේ සැපය තියෙනවා. දෙවෙනි ධ්‍යානය. අම්බට්ඨ, මේ තමයි ඔහුගේ චරණය කියන්නෙ. ඇහුවේ විජ්ජාචරණනෙ. ඔක තමයි චරණ කිව්වා. ඊටපස්සෙ තුන්වෙනි ධ්‍යානය ප්‍රීතියට නොඇලීමෙන් උපෙක්ෂාවෙන් වාසය කරනවා. සිහියෙන් නුවණින් යුතුව කයෙන් සැපයත් විඳිනවා. ආර්යයන් වහන්සේලා යම් ධ්‍යානයක් උපෙක්ෂා සහගත සිහි ඇති සැප විහරණය ඇති කියලා පවසනවා නම් ඒ තුන්වෙනි ධ්‍යානය උපදවාගෙන වාසය කරනවා. ඔහු මේ කය ප්‍රීති රහිත

සුඛයෙන් හොඳට තෙත් කරනවා. මුළුමනින්ම තෙත් කරනවා. එයින් පුරවනවා. ප්‍රීති රහිත සැපයකින් මුළු ශරීරයම සිතම පිරෙනවා. තුන්වෙනි ධ්‍යානය. උපමාවක් ගත්තොත්, මහනෙල් විලක හෝ රතු නෙළුම් විලෙක හෝ සුදු නෙළුම් විලෙක වතුර ඇතුලේ තියෙනවා මානෙල් පොහොට්ටුවක්, නෙලුම් පොහොට්ටුවක්. එතකොට ඒ නෙළුම් පොහොට්ටුවේ පටන් ගත්තු තැන ඉඳලා අග දක්වාම සීතල වතුරින් තෙත් නොවිච්ච තැනක් නෑ, ඒ වගේ තමයි කියනවා පින්වත් අම්බට්ඨ, ප්‍රීති රහිත සුඛයෙන් හොඳටම කය තෙත් වෙනවා, සිත තෙත් වෙනවා. මුළුමනින්ම තෙත් වෙනවා, පිරෙනවා. ඉතින් ස්පර්ශ නොකරපු තැනක් නෑ මේ ප්‍රීති රහිත සුඛයෙන්. මේ තුන්වෙනි ධ්‍යානය කියන්නෙ චරණ ධර්මයක්. ඊළඟට අම්බට්ඨ හතරවෙනි ධ්‍යානය උපද්දවාගෙන වාසය කරනවා, සැප දුක ප්‍රහාණය කරලා, සෝමනස්ස දෝමනස්ස කලින්ම ප්‍රහාණය කරලා පාරිශුද්ධ උපෙක්ෂාවෙන් යුතු  සිහිය ඇති සතරවෙනි ධ්‍යානය. එතකොට උපෙක්ෂාවෙන් මේ ශරීරයම තෙත් වෙනවා ප්‍රභාෂ්වරව පැතිරී පැතිරී යනවා. පාරිශුද්ධ ප්‍රභාෂ්වර සිතින් ස්පර්ශ නොවිච්ච තැනක් නෑ රෝම කූපයක් පවා. උපමාවක්, අම්බට්ඨ සුදු පාට වස්ත්‍රයකින් හිත සම්පූර්ණයෙන්ම පුරවලා තිබ්බොත් එහෙම, වහලා තිබ්බොත් කෙනෙක් එයාගේ මුළු ඇඟම සුදු වස්ත්‍රයෙන් වැහිලා වගේ හතරවෙනි ධ්‍යානයට ගියාට පස්සෙ ප්‍රභාෂ්වර වූ පාරිශුද්ධ වූ සිතින් මුලු කයම ස්පර්ශ වෙලා තියෙන්නෙ. අම්බට්ඨ තවදුරටත් කියනවා නම් හිත මේ විදියට සමාහිත වුනාම ප්‍රභාෂ්වර වුනාම කෙලෙස් බාධා රහිත වුනාම, උපක්ලේශ බැහැර වුනාම මෘදු බවට පත්වුනාම කර්මණ්‍ය වුනාම ඕනෑම දේකට හසුරවන්න පුලුවන් වුනාට පස්සෙ අම්බට්ඨ දැනගන්නවා මේ මගේ කය චනාහි සතර මහා භූතයන්ගෙන් හටගත් දෙයක් මේ ඇඟ, අම්මා තාත්තා නිසා හටගත්තු එකක්, බත් ව්‍යංජන ආදියෙන් වැඩුනු, අනිත්‍ය වූ ඇලීම් පිරිමැදීම් වලින් නඩත්තු කළ යුතු වූ බිඳී වැනසී යන ස්වභාවයට අයත් රූපවත් වූ දෙයක්. මේ කයේම තමයි විඤ්ඤාණයත් තියෙන්නේ කියලා කයයි විඤ්ඤාණයයි දකිනවා කය තුළ විඤ්ඤාණය කිඳාබැස තියෙන හැටි සමාධියෙන් දකිනවා. හැබැයි හතරවෙනි ධ්‍යානයෙන් පස්සෙ මේක වෙන්නෙ. එතකොට හතරවෙනි ධ්‍යානය ඉක්මවා ගියාට පස්සෙ කය වෙනම දකිනවා, කයේ කිඳා බැස තිබෙන, මුළු ශරීරයේම කිඳා බැස තිබෙන විඤ්ඤාණය වෙනම දකිනවා. ඔන්න ඒක හතරවෙනි ධ්‍යානය ඉක්මවන්න ඕන. ඒක හරියට උපමාවක් කියනවා අම්බට්ඨ ඔපමට්ටම් වූ වෛරෝඩි මාණික්‍යය දකිනවා වෙනම, වෛරෝඩි මාණික්‍යයේ නූලක් අමුණලා තියෙනවා නම් නූල වෙනම

දකිනවා, මේන් වෛරෝඩි මාණික්‍යය, මෙන්න ඇතුලෙන් අමුණලා තියෙන නූල. ඒ වගේම මුළු කයත්, කයේ තියෙන විඤ්ඤාණයත් දකිනවා. අම්බට්ඨ මේක දකින එක විද්‍යාවක් කිව්වා. අන්න චරණ මෙන්න විද්‍යා. පළවෙනි ධ්‍යානය, දෙවෙනි ධ්‍යානය, තුන්වෙනි ධ්‍යානය, හතරවෙනි ධ්‍යානය චරණ ධර්ම. ඊළඟට අම්මගෙන් තාත්තගෙන් මුල් වෙලා හැදිච්ච ආහාරයෙන් පෝෂිත ඉලීම් පිරිමැදීම් වලින් දකින මේ ශරීරය විඤ්ඤාණය බැස තිබෙන අයුරු දකින එක පළවෙනි විද්‍යාව. අම්බට්ඨ ඔය විදියට හිත සමාධිමත් වුනාට පස්සෙ උපක්ලේශ වලින් බැහැර වුනාට පස්සෙ එයා මොකද කරන්නෙ මේ ශරීරයෙන් මනෝමය කය එළියට ගන්නවා. එයා මේ ශරීරය මේ සියලු ඉරියව් සහිත මේ සියලු අංගෝපාංග සහිත මේ වගේම ශරීරයක් මවනවා. අම්බට්ඨ ඒක හරියට මේ වගේ එකක්. තණකොළ ගහකින් තණකොළ ගොබය එළියට ගන්නවා වගේ. එතකොට තණකොළ ගහ වෙනයි ගොබය වෙනයි. ඒ වගේම අම්බට්ඨ කඩුවකින් කොපුව එළියට ගන්නවා වගේ, කොපුව එකක්. කඩුව එකක්. ඒ වගේම අම්බට්ඨ නයි පෙට්ටියකින් නයෙක් එළියට ගන්නවා වගේ. නයි පෙට්ටිය වෙනම එකක්. නයා වෙනම එකක්. ආන්න ඒ වගේ හිත ප්‍රභාෂ්වර වුනාට පස්සෙ මේ ඇඟෙන්ම මේ ශරීරය මේ විදියටම රූපයක් එළියට ගන්නවා මවලා. එතකොට ඒ රූපය වෙනයි, මේ රූපය වෙනයි. ඕක තමයි මනෝමය කය මවන්න පුලුවන් එක දෙවෙනි විද්‍යාව. අම්බට්ඨ, ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා මේ ශරීරය මේ විදියට හිත දියුණු කරලා ඒ මනෝමය කයත් එළියට ගන්න පුරුදු කරවලා ඊළඟට ඍද්ධි ප්‍රාතිහාර්ය පානවා. එකා වගේ දාහක්, එක්කෙනෙක් දහස් දෙනෙක් වගේ ඉන්නවා, දහස් දෙනා එක්කෙනෙක් වෙනවා. අහසේ යනවා, පළඟක් බඳිනවා, වතුරේ සක්මන් කරනවා, පොළොවේ කිමිදෙනවා. ඉර සඳ අතගානවා. ඍද්ධි ප්‍රාතිහාර්ය දක්වනවා. අම්බට්ඨ ඒක මේ වගේ දෙයක් උපමාවකින් කිව්වොත්. ඒ තමයි කුඹල්කරුවෙකුට හෝ ඔහුගේ දක්ෂ අතවැසියෙකුට මැටි ටිකක් හම්බවුනාට පස්සෙ ඒ මැටි ටිකෙන් ඕන ඕන දේවල් හදනවා. ඒ වගේ මේ ඍද්ධි ප්‍රාතිහාර්ය කැමැති කැමැති ඒවා කරන්න පුලුවන්, හිත දියුණු කරලා. අම්බට්ඨ එහෙම නැත්නම් තවත් උපමාවක් කිව්වොත් ඇත් දළ කැටයම් කරන කෙනෙකුට, හොඳ දක්ෂ ඇත් දළ කැටයම් කරුවෙකුට ඇත් දළයක් හම්බුනා වගේ. පුදුම පුදුම ඇත්දළ කැටයම් කරනවා. ආන්න ඒ වගේ හිත සමාධිමත් වුනාට පස්සෙ හිත කර්මණ්‍ය වුනාට පස්සෙ කෙලෙස් බාධා රහිත වුනාට පස්සෙ උපක්ලේශ බැහැර වුනාට පස්සෙ මෘදු වුනාට පස්සෙ එක එක ඍද්ධි ප්‍රාතිහාර්ය පාන්න හිත යොමු කරනවා. මෙන්න

මේකත් ඔහුගේ විද්‍යාවට අයිති දෙයක්. දැන් චරණ ධර්ම වෙනම. මේ විද්‍යා ධර්ම. ඒ විතරක් නෙවෙයි අම්බට්ඨ, කෙනෙක් හිත හොඳට දියුණු කලාට පස්සෙ එයා මොකද කරන්නෙ, අකම්පිත වුනාට පස්සෙ දිව්‍ය වුත් මානසික වුත් දුර ළඟ ශබ්ද ශ්‍රවණය කරන්න දිබ්බචක්ඛු උපදවනවා. අම්බට්ඨ ඒක මේ වගේ දෙයක්. ගමනක් යනකොට මනුස්සයෙකුට ඈත ඇහෙනවා බෙර හඬක්. ඊටපස්සෙ එයාට තේරෙනවා මේක මිහිඟු බෙරය, අපි ගත්තොත් මේක පහතරට බෙරය, මේ උඩරට බෙරය, මේ දවුල, මේ තම්මැට්ටම කියලා හඬින්ම අර දුරින් එන හඬ තේරෙනවා. ආන්න ඒ වගේ දුර වූද, ළඟ වූද, මිනිස් වූද දිව්‍ය වූද සියලු ශබ්ද ශ්‍රවණය කරනවා. මේක අම්බට්ඨ ඔහුගේ විද්‍යාවක්. අම්බට්ඨ ඒ විතරක් නෙවෙයි. මේ විදියට හිත දියුණු වුනාට පස්සෙ පිරිසිදු වුනාට පස්සෙ කර්මණ්‍ය වුනාට පස්සෙ ඔහු වෙනත් සත්ත්වයන්ගේ සිත තමන්ගේ සිතෙන් දකිනවා, දැන් මෙයා රාග සහිතව ඉන්නෙ. දැන් මෙයා හිතන්නෙ වීතරාගීව. දැන් මෙයා හිතන්නෙ ද්වේෂයෙන් කියලා රාග, ද්වේෂ, මෝහ සහිත දාසයාකාරයකින් පවතින හිත තේරුම් ගන්නවා. හිත හැකිලිලා, මේවවෙලා ප්‍රීතියට පත්වෙලා, ප්‍රමෝදයට පත්වෙලා, සමාහිත පත්වෙලා, අසමාහිත පත්වෙලා, මේ දැන් හිත තියෙන්නෙ කොහොමද ඒ විදියටම පේන්න ගන්නවා. උපමාවකින් කිව්වොත් එහෙම අම්බට්ඨ, ලස්සනට සැරසෙන්න කැමැති ස්ත්‍රියක් හෝ පුරුෂයෙක් දීප්තිමත් කණ්ණාඩියක් හෝ දියබඳුනක් ළඟට ගිහිල්ලා හොඳට බලනවා. එතකොට ඒකෙන් හොඳට පේනවා එයාගෙ මූණ. ආන්න ඒ වගේ අනිත් අයගේ හිත පේන්න ගන්නවා තමන්ට. ඔන්න ඕක නම් අම්බට්ඨ විද්‍යාවක්. ඊළඟට අම්බට්ඨ හොඳට හිත සමාධිමත් වුනාට පස්සෙ, අකම්පිත වුනාට පස්සෙ එයා මොකද කරන්නෙ, පෙර ජීවිත සිහි කරනවා, ජීවිත එකක් දෙකක් තුනක් සංවට්ඨ විවට්ඨ කල්ප සිහි කරනවා. උපමාවකින් ගත්තොත් අම්බට්ඨ ගමකින් ගමකට ගිය කෙනෙක්, මම අහවල් ගමේ මෙහෙම හිටියා, මේවා කෑවා බීවා, ඒ ගමෙන් අහවල් ගමට ගියා, අහවල් දේවල් කෑවා බිව්වා, ඒ ගමෙන් මේ ගමට ආවා, අහවල් දේවල් කෑවා බීවා කියලා සිහි කරන්නෙ, ඒ වගේ අම්බට්ඨ සිහි කරන්න පුලුවන් පෙර ජීවිත ඕන තරම්, සංවට්ඨ විවට්ඨ කල්ප. භික්ෂුව ඒක කරනවා. ඔන්න ඕක විද්‍යාවක්. අම්බට්ඨ එතනින් ජීවිත සිහි කරලා තවත් හිත පිරිසිදු වුනාට පස්සෙ එයා මොකද කරන්නෙ, කර්මානුරූප සත්ත්වයා උපදිනවා චුතවෙනවා දකිනවා චුතූපපාත ඥාණය. මේ කට්ටිය දිව්‍යලෝකෙ, මේ කට්ටිය අපායෙ, මේ හීන මේ ප්‍රණීත මේ පව් කරපු අය මෙහෙම උපදිනවා, පින් කරපු අය මෙහෙම උපදිනවා හොඳට

පේනවා. චුතිය උපත පේන නුවණ අම්බට්ඨ උපමාවකින් කිව්වොත් එහෙම හන්දියක තට්ටු නිවසක් තියෙනවා නම් එහි ඇස් ඇති පුරුෂයෙක් සිටගෙන බලාගෙන ඉන්නවා. මේ ගෙයින් අර ගෙදරට යනවා, අර ගෙදරින් මේ ගෙදරට යනවා, මෙහෙන් එහෙට්ට යනවා, එහෙන් මෙහෙට්ට යනවා, මැරෙනවා උපදිනවා ඔය විදියට පේනවා කිව්වා. ඒක විද්‍යාවක්. ඒ විතරක් නෙවෙයි අම්බට්ඨ හොඳට උපක්ලේශ බැහැර වුනාට පස්සෙ එයා මොකද කරන්නෙ, ආශ්‍රවයන් ක්ෂය කිරීමේ නුවණට හිත යොදවනවා. එතකොට මේක තමයි දුක කියලා ආර්ය සත්‍යය යථාර්තයෙන් අවබෝධ වෙනවා. මේක තමයි දුකේ හටගැනීම කියලා ආර්ය සත්‍යය යථාර්තයෙන් දැන ගන්නවා. මේ තමයි දුක නිරුද්ධ වීම කියලා ආර්ය සත්‍යය යථාර්තයෙන් අවබෝධ කරනවා. මේ තමයි දුක නිරුද්ධ කිරීම පිණිස පවතින මාර්ගය කියලා ආර්ය සත්‍යය යථාර්තයක් වශයෙන් දැනගන්නවා. මෙහෙම දැනගත්තට පස්සෙ හොඳට මෙයාගේ හිතෙන් ආශ්‍රව දුරු වෙනවා. ආශ්‍රව දුරුවීමේ ප්‍රතිපදාව යථාර්තයක් බවට පත්වෙනවා. මෙහෙම දැනගනිද්දි, දැකගනිද්දි කාමාශ්‍රවයන්ගෙන්, භවාශ්‍රවයන්ගෙන්, අවිජ්ජාශ්‍රවයන්ගෙන් හිත නිදහස් වෙලා, ඉපදීම ක්ෂය වුනා, බඹසර වාසය සම්පූර්ණ වුනා. කලයුතු දෙයක් නෑ සසර ගමන ඉවරයි කියලා අර්හත් නුවණ පහළ වෙනවා. ඒකත් විද්‍යාවක්. පින්වත් අම්බට්ඨ උපමාවකින් කිව්වොත් එහෙම කන්දක් මුදුනේ පොකුණක් තියෙනවා. පොකුණට කොළ වැටිලා නෑ වතුර හරිම පිරිසිදුයි. ඒකෙ මච්ඡ කුම්බන්තං චරන්තම්පි තිට්ඨංතම්පි ඒ මාළුවො එහෙ යනවා මෙහෙ යනවා ඒ ඇස් ඇති පුරුෂයෙකුට හොඳට පේනවා. ආන්න ඒ වගේ ඇතුලෙ තියෙන සිප්පි බෙල්ලො ඔක්කොම පේනවා. ආන්න ඒ වගේ හිත හොඳට සමාධිමත් වුනාට පස්සෙ ආශ්‍රව පේනවා. දුක්ඛ, සමුදය, නිරෝධ, මාර්ගය කියන ආර්ය සත්‍යය අවබෝධ වෙනවා. ඉතින් ඒ හිත නිදහස් වෙනවා, නිකෙලෙස් වෙනවා. රහතන් වහන්සේ නමක් බවට පත්වෙනවා. මේක තමයි විද්‍යාව. පින්වත් අම්බට්ඨ මේ විදියට විද්‍යාවෙන් සමන්විත චරණයෙන් සමන්විත විජ්ජාචරණ සම්පන්න වූ ශ්‍රාවකයෙක් ඉන්නවාද ඔහුට තරම් උත්තරීතර, ප්‍රණීතතර විජ්ජාචරණ සම්පත්තියක් තුන්ලෝකෙම නෑ කිව්වා. පින්වත් අම්බට්ඨ මේ අනුත්තර වූ විජ්ජාචරණ සම්පත්තියට විනාශමුඛ හතරක් තියෙනවා. ඒ කියන්නෙ අනුත්තර වූ විජ්ජාචරණ සම්පත්තිය ළඟා කරගන්න බැරි කාරණා හතරක් තියෙනවා අම්බට්ඨ. ඒ හතර තමයි එක්කෙනෙක් කල්පනා කරනවා ඔච්චර දෙයක් දෙයියනේ මං කොහොමද කරන්නෙ කියලා, එයාට බයයි, එයාට

කරගන්න අමාරුයි, විජ්ජාචරණ සම්පන්න වීම. රහත් වෙන්න බෑ එයාට. රහත් වෙන එක කරගන්න අමාරුයි. එයා මොකද කරන්නෙ, මට රහත් වෙන්නත් බැරි එකේ මම පලත්තඵලබෝජී වෙනවා කියලා ගහෙන් වැටෙන කොළ ගෙඩි කකා කැලේට වෙලා ඉන්නවා, පලත්තඵලබෝජී වෙනවා. ඔය විජ්ජාචරණ සම්පන්න ගුණය ළඟා කරගන්න බැරිව එක්කෙනෙක් කරන අපාය මුඛයක්. ඒ කියන්නෙ ඒකෙන් එයාට කරගන්න බෑ විජ්ජාචරණ සම්පන්න ගුණය. හැබැයි මෙයා විජ්ජාචරණ සම්පන්න කෙනෙක් නෙවෙයි. කැලේට වෙලා පලත්තඵලබෝජී ව ඉන්නවා. විජ්ජාචරණ සම්පන්න කෙනෙක්ගේ ගෝලයෙක් වගේ. තවත් කෙනෙක් කල්පනා කරනවා අප්පේ මට නම් අර්හත්වයට පත්වෙන්නත් බෑ, ගහෙන් වැටෙන කොළ ගෙඩි කාලා ඉන්නත් බෑ කියලා එයා උදැල්ලකුයි මල්ලකුයි අරගෙන ගිහිල්ලා කැළේ තියෙන අල හාරලා, එහෙම අල කකා කැලේට වෙලා ඉන්නවා. මෙයා විජ්ජාචරණ සම්පන්න කෙනෙක් නෙවෙයි. මෙයා විජ්ජාචරණ සම්පන්න කෙනෙක්ගේ ගෝලයෙක් වගේ. මේ දැන් ඉඳලා අහගන්න. දැන් ඉඳලා තමයි අම්බට්ඨගෙ මාන්නෙට වදින තැන් තියෙන්නෙ. ඈ අම්බට්ඨ තව කෙනෙක් කල්පනා කරනවා මට විජ්ජාචරණ සම්පන්න වෙන්නත් බෑ, පලත්තඵලබෝජී වෙන්නත් බෑ, අල ගෙඩි කාලා ඉන්නත් බෑ, ඒ නිසා මං ගමක් හෝ ගමකට අයිනෙ ගිනි පුද පුදා ඉන්නවා කියලා ගමක් අයිනේ ගිනි පුද පුදා ඉන්නවා. ගින්දරක් ගහලා ඒකට වැඳ වැඳ ඉන්නවා. ඒක තුන්වෙනි අපායමුඛය. තව එක්කෙනෙක් කල්පනා කරනවා මට විජ්ජාචරණ සම්පන්න වෙන්නත් බෑ, පලත්තඵලබෝජී වෙන්නත් බෑ, අලගෙඩි මුල් කාලා ඉන්නත් බෑ, ගිනි පුද පුදා ඉන්නත් බෑ කියලා හතරමං හන්දියක දන්සැලක් හදාගෙන සිවු දිගින් වඩින ශ්‍රමණ බ්‍රාහ්මණයන්ට දන් දිදී ඉන්නවා. එයත් විජ්ජාචරණ සම්පන්න කෙනෙක් නෙවෙයි. විජ්ජාචරණ සම්පන්න කෙනෙක්ගේ ගෝලයෙක් වගේ. පින්වත් අම්බට්ඨ, මේ තමයි අනුත්තර වූ විජ්ජාචරණ සම්පත්තියට බාධා පිණිස විනාශමුඛ හතර කියලා කියන්නෙ. මං අම්බට්ඨ උඹෙන් අහන්නෙ මේකයි. මොකක්ද හිතන්නෙ, මේ අනුත්තර වූ විජ්ජාචරණ සම්පත්තිය තුළ ඔබ, ඔබගේ ආචාර්‍යවරයා සහිතව ඉන්න බව දකිනවාද. විජ්ජාචරණ සම්පන්න බව අර්හත්වයට පත්වෙන හැටි කිව්වානෙ. ඔබයි ඔබේ ආචාර්‍ය වරයා ඉන්නවානෙ පොක්කරසාති, ඒ අය ඔක්කොම ඒ ප්‍රතිදාවේ ඉන්නවාද. භවත් ගෞතමයෙනි, නෑ, අනේ අපි කවුද. අපි ආචාර්‍යවරයා සහිතව අපි කවුද, විජ්ජාචරණ සම්පන්න උත්තමයො කවුද. අනේ අපි නම් ඕවා දන්නෙවත් නෑ කිව්වා. හරි අම්බට්ඨ. එහෙනම් විජ්ජාචරණ සම්පන්න බවට පත්වෙන්න බැරිව

තවුස් පිරිකර කද ගෙනදෙන පලත්තඵලබෝජී වෙලා ඉන්නවාද ඔයයා ඔයාගේ ආචායයීවරයායි. අනේ නෑ කිව්වා. හරි එහෙනම් අල මුල් කාලාවත් ඉන්නවාද, නෑ කිව්වා. එහෙනම් ගිනි පුද පුදාවත් ඉන්නවාද, නෑ කිව්වා. එහෙනම් හතරමං හන්දියක දන්සලක් වත් දාගෙන ඉන්නවාද කියලා ඇහුවා. අනේ නෑ ශ්‍රමණ භවත් ගෞතමයෙනි, අපි එහෙම නෑ. අම්බට්ඨ ඔය විදියට ආචායයීවරයා සහිත වූ ඔබ අනුත්තර විජ්ජාචරණ සම්පත්තියෙනුත් පිරිහිලා, අපායමුඛ හතරෙනුත් පිරිහිලා, ඒ එකක්වත් කරගන්න බැරිව ඔය ඔබගේ ගුරුවරයා වූ පොක්කරසාතී පුදුම කතාවක් ළඟදින් කියලා තියෙනවානෙ කිව්වා. පොක්කරසාතී කියලා තියෙනවා ලාමක ගිහියන් වූ, කළු වූ, මහබඹුගේ පයෙන් උපන් පවිටු මුඩු ශ්‍රමණයන් කවුද, එබඳු ශ්‍රමණයොත් එක්ක ත්‍රිවිද්‍යා ලබාගත් බමුණන්ට මොන සාකච්ඡාද, ඒ විදියට ශ්‍රමණයන්ට ගරහලා ඔය ශ්‍රමණයොත් එක්ක කවුද කතා කරන්නෙ අපි වාගේ උතුම් බමුණො කියලා, කියලා තියෙන්නෙ විජ්ජාචරණ සම්පත්තියවත්, විජ්ජාචරණ සම්පත්තියේ අපායමුඛ හතරවත් නැති ඔහේගෙ ගුරුවරයා නේද කියලා ඇහුවා. එතකොට කියනවා මේ අම්බට්ඨ උඹගේ ආචායයීවරයා, පොක්කරසාතී බ්‍රාහ්මණයා භයානක කතාවක් ඔය කියලා තියෙන්නෙ. පින්වත් අම්බට්ඨ ඒ විතරක් නෙවෙයි ඔය පොක්කරසාතී බ්‍රාහ්මණයා පසේනදී කොසොල් රජ්ජුරුවො තෑග්ගට දුන්නු ගම තමයි පරිභෝග කරන්නෙ. ඒ ගමෙන් තමයි අයබදු අරන් ඉන්නෙ. ඒත් අම්බට්ඨ කොසොල් රජ්ජුරුවො පොක්කරසාතී මුණගැහෙන්න ආවට පස්සෙ රෙදි කෑල්ලකින් තිරයක් දාලා, තිරයෙන් මෙහෙ කොසොල් රජ්ජුරුවො ඉඳලා ඇතුලෙ ඉඳලා තමයි කිව්වා පොක්කරසාතී කතා කරන්නෙ. අම්බට්ඨ මුළු ගමම දීලා ඒ ගමෙන් තියෙන ආදායම භුක්ති විඳින පොක්කරසාතී බ්‍රාහ්මණයා තමන්ට තෑග්ග ලැබුනු කොසොල් රජ්ජුරුවන්ට මූණ පෙන්නන්නැතිව කතා කරන එක ගැලපෙනවාද කියලා ඇහුවා. අම්බට්ඨ ඔහේගේ ආචායයීවරයා කොයිතරම් බරපතල දෙයක්ද මේ කරලා තියෙන්නෙ කියලා කල්පනා කරන්න කිව්වා. පොක්කරසාතිත් ඉවරයි. ඊටපස්සෙ කියනවා අම්බට්ඨ මේ ගැන මොකක්ද හිතන්නෙ. ඒ තමයි පසේනදී කොසොල් රජතුමා, අම්බට්ඨ හොඳට කල්පනා කරපං මේක. කොසොල් මහරජ්ජුරුවො ඇත්ගෙල මත වාඩිවෙලා, එහෙම නැත්නම් අසුපිට වාඩි වෙලා ඉන්නවා. රථයක ඉන්නවා. එතකොට ඇමතිවරු ඇවිල්ලා ඔටුන්න හිමි කුමාරවරු ඇවිල්ලා රජතුමා සාකච්ඡා කරනවා. එතකොට ඔතෙන්ට එනවා ශුද්‍රයෙක්. පහත් මිනිහෙක්. ඇවිල්ලා කොසොල් රජ්ජුරුවන්ට එහා පැත්තෙ ඉඳලා තවත් පිරිසක් පිරිවරාගෙන

කොසොල් රජ්ජුරුවො කියන දේවල්ම එයා කියනවා. දැන් කොසොල් රජ්ජුරුවො අර ඇමති මණ්ඩලයට කියන්නෙ, අපේ රාජ්‍යයෙ මෙහෙම කරන්න ඕන, මේ විදියට සැලසුම් කරන්න ඕන කියලා ඇමතිවරුත් එක්ක කතා කරනවානෙ. ඒ වචන වලින් ඒ විදියටම ශුද්‍රයෙකුත් එහා පැත්තෙ ඉඳලා පිරිසකට කියනවා. දැන් අම්බට්ඨ උඹ කියාපං අර ශුද්‍රයා කොසොල් රජ්ජුරුවො කියපු එක ඒ විදියටම කිව්වා කියලා ශුද්‍රයාගේ කතාව රාජකීය කතාවක් වෙනවාද කියලා ඇහුවා. අනේ නෑ ගෞතමයෙනි කිව්වා. අම්බට්ඨ උඹ මොකක්ද හිතන්නෙ. ආන්න ඒ වගේ බ්‍රාහ්මණයින්ගේ මන්ත්‍ර කියන පූර්වාචාර්යවරු හිටියා. ඒ කියන්නෙ අට්ඨක වාමක වාමදේව වෙස්සාමිත්ත යමතංගී අංගීරස භාරද්වාජ වාසෙට්ඨ කස්සප භගු කියලා. ඒ අය මන්ත්‍ර සජ්ඣායනා කලාද කිව්වාද රැස් කලාද දැන් ඉන්න බමුණො ඒවා ඉගෙන ගෙන ඒ විදියටම කිය කියා යනවා. කිය කියා ගිහිල්ලා මාත් ආචාර්යවරයා සහිත මන්ත්‍ර හදාරනවා කියලා ලෝකෙට කියනවා. ඒ කියපු පමණින් උඹලා ඍෂිවරු වෙනවාද කියලා ඇහුවා. ඒ අය ඒ කාලෙ තපස් රැක රැක තමයි මන්ත්‍ර සජ්ඣායනා කලේ. ඒවා ඒ විදියටම උඹලා දැන් කියනවා කිව්වා. අර කොසොල් රජ්ජුරුවො කියන එක ශුද්‍රයෙක් ඒ විදියටම කිව්වා කියලා රාජකීය කතාවක් වෙනවාද කියලා ඇහුවා. අම්බට්ඨයාගෙ මාන්නය නම් මක්කවුනාද දන්නෙ නෑ. අම්බට්ඨ මොකක්ද ඒ ගැන හිතන්නෙ? වැඩමහළු ආචාර්ය ප්‍රාචාර්ය බ්‍රාහ්මණයන් ඒ ඍෂිවරුන් ගැන කියන දේ ඔබ අහලා තියෙන්නේ කොහොමද. ඒ බ්‍රාහ්මණයන්ගේ මන්ත්‍ර හදාරන, ඒ මන්ත්‍ර කියන පූර්වාචාර්ය වූ අට්ඨක වාමක වාමදේව වෙස්සමිත්ත යමතංගී අංගීරස භාරද්වාජ වාසෙට්ඨ කස්සප භගු ඒ ඍෂිවරුන් මන්ත්‍ර පද ගායනා කලාද, කිව්වාද, රැස් කලාද දැන් ඉන්න බමුණන් ඔවුන් අනුව ගායනා කරන්නෙ. කියපු දේ කියන්නෙ. කියපු දේම නැවත නැවතත් කියාගෙන යන්නෙ. ඒ විදියට පාඩම් කරවන්නෙ. ඉතින් ඔබ අහලා තියෙනවද, දැන් ආචාර්යවරයා සහිතව ඔබ හොඳට නාලා හොඳට සුවඳ විලවුන් ගාලා හැඩට කෙස් රැවුල් පීරලා මිණි කොඬොල් ආභරණ පළඳවලා සුදුවස්ත්‍ර හැඳගෙන පඤ්චකාමයේ ඇලි ගැලී වාසය කර කර උඹලා දැන් ඉන්නවානෙ මන්තර කිය කියාම. උඹලාගේ ඔය මන්තර උපද්දවපු ඍෂිවරු උඹලා විදියටද හිටියේ කියලා ඇහුවා. හොඳට නාලා සුවඳ ගාගෙන කෙස් රැවුල් පීරලා පඤ්චකාමය භුක්ති විඳගෙනද කිව්වා කලින් හිටිය අට්ඨක වාමක වාමදේව ආදී අය. අනේ නෑ ස්වාමීනී කිව්වා. ඉතින් කිව්වා, හරි දැන් නුඹලා ආහාරයක් - දැන් එතකොට අපේ භාග්‍යවතුන් වහන්සේට කොච්චර දැනුමක්ද කොච්චර

දැක්මක් ද බමුණන්ගේ බමුණු දහම ගැන. බමුණෝ ඉන්න විදිය - නුඹලා කෑම කද්දි හාල් වල කළු හාල් ඇට අයින් කරලා සුදු ටික විතරක් අරන් හොඳට ප්‍රණීතව භුක්ති විඳිනවා කිව්වා. හා උඹලා හිතන්නෙ කොහොමද අතීතයේ හිටපු අට්ඨක වාමක වාමදේව ආදී මන්ත්‍ර උගන්නපු ඍෂිවරු එහෙම ආහාර වෙන් කර කර වැළඳුවද කියලා ඇහුවා. අනේ නෑ ස්වාමීනී කිව්වා. ඊළඟට උඹ මොකක්ද හිතන්නෙ, අම්බට්ඨ නුඹයි නුඹේ ගුරුවරුයි උපස්ථානයට ගන්නෙ ඉණ හීන්ව තියෙන ලස්සන ශරීරයක් තියෙන කන්‍යාවියො කිව්වා උපස්ථානයට තියාගෙන ඉන්නෙ. ඉතින් කොහොමද හිතන්නෙ අට්ඨක වාමක වාමදේව ආදී මන්ත්‍ර උපද්දවපු ඒ ඍෂිවරු ස්ත්‍රීන් තියාගත්තද ඇහුවා උපස්ථානයට. අනේ නෑ ස්වාමීනී කිව්වා. ඊළඟට ඒ වගේම දැන් නුඹත් නුඹගේ ආචාර්‍යවරයාත් ලස්සනට සරසපු වළිගෙ සරසපු වෙළඹුන් යොදවපු රථවල නැගලා කෙවිටක් අරන් අශ්වයාට තඩිබබා ගමන් යනවා කිව්වා. උඹලා මොකක්ද හිතන්නෙ, ඔය මන්ත්‍ර ශාස්ත්‍ර උගන්නපු උඹලගෙ පැරණි ඍෂිවරු ඔහොම අශ්වයන්ට තල තල ගමන් ගියාද කියලා ඇහුවා. අනේ නෑ ස්වාමීනී කිව්වා. එහෙනම් පින්වත් අම්බට්ඨ, නුඹ මොකක්ද මේ ගැන හිතන්නෙ. නුඹලගේ ගෙවල් තියෙන්නෙ, ඔය නුඹලාගේ බමුණු ගෙවල් තියෙන්නෙ හොඳට හදලා වටේට ඇල වලවල් කපලා ඒවට කිඹුලො දාලා ලොකු ආරක්ෂා සහිතව කිව්වා උඹලා ඉන්නෙ. කොහොමද හිතන්නෙ අතීතයේ අට්ඨක, වාමක, වාමදේව ආදී ඍෂිවරු ඔය විදියට ගෙවල් වටේට ඇලවල් කැණවලා සත්තු දාලා ඔය වගේ ආරක්ෂිතව හිටපු අයද කියලා ඇහුවා. අනේ නෑ ස්වාමීනී කිව්වා. එහෙනම් පින්වත් අම්බට්ඨ, ආචාර්‍යවරයා සහිත ඔබ ඍෂිවරයෙකුත් නෙවෙයි. ඍෂිවරයෙක් වීමට පිළිපන් වෙලත් නෑ, නමුත් අම්බට්ඨ නමුත් යම් කෙනෙකුට මා ගැන සැකයක් තියෙනවා නම් අම්බට්ඨ බුදු කෙනෙක් ගැන සැකයක් තියෙනවා නම් මගෙන් ඇවිල්ලා අහන්න කිව්වා. මං කරුණු සහිතව ඒ අයගේ සැක දුරු කරනවා කිව්වා. නුඹලා ඍෂිවරුත් නෙවෙයි කිව්වා. ඍෂිවරයෙක් වෙන්න පාරකුත් නෑ කිව්වා. කොහොම ඉන්න ඇතිද. මේ විදියට කියනකොට ගල්ගැහුනා අම්බට්ඨයා. භාග්‍යවතුන් වහන්සේ කුටියෙන් නැගිටලා කිසි කෙනෙක් එක්ක කතා කරන්නැතිව සක්මනට ගියා. සක්මනට වැඩලා භාග්‍යවතුන් වහන්සේ අර්හත් සමාධියෙන් සක්මන් කලා. සක්මන් කරනකොට අම්බට්ඨයා කරකියාගන්න දෙයක් නැතිව අර කොල්ලො ටිකත් එක්ක කාමරෙන් එළියට ආවා ගන්ධ කුටියෙන්. ඇවිල්ලා බුදුරජාණන් වහන්සේ සක්මන් කරන දිහා බලා හිටියා. බලා ඉඳලා දැන් තමයි මතක් වුනේ

පොක්කරසාතී දෙතිස් මහා පුරුෂ ලක්ෂණ බලන්න කිව්වා කියලා. දැන් එකින් එක මහා පුරුෂ ලක්ෂණ බැලුවා. එකින් එක මහා පුරුෂ ලක්ෂණ බලනකොට අම්බට්ඨට කෝසෝහිත වත්තගුය්හත්, පහූත ජිව්හා අපි මීට කලින් කතා කරලා තියෙනවා. ඒ කාරණා දෙක පෙනුනේ නෑ අනිත් පුරුෂ ලක්ෂණ තිහම පෙනුනා. භාග්‍යවතුන් වහන්සේ වස්ත්‍රයකින් එහා වගේ එහෙම නැත්නම් අඳුරේ ඡායාවක් වගේ නෙළුම් කෙමියක බහාලූ පරිද්දෙන් තියෙන පුරුෂ නිමිත්ත ඡායාවක් වගේ පේන්න සැලැස්සුවා. ඒ වගේම දිව එළියට අරගෙන කන් සිදුරු දෙක නාස් සිදුරු දෙක පිරිමැද්දා, මුළු නළලම දිවෙන් වැහුවා. එතකොට අම්බට්ඨට හිතුනා ඒකාන්තයෙන් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ නම් මහා පුරුෂ ලක්ෂණ තිස් දෙකෙන් සමන්විතයි කියලා. බුදුරජාණන් වහන්සේ වැඩ ඉන්න සක්මනට වන්දනා කරලා අම්බට්ඨ පිටවී ගියා. අම්බට්ඨයා දැන් එයි, අම්බට්ඨයා දැන් එයා කියලා පොක්කරසාතී බලන් ඉඳලා පොක්කරසාතීගෙ බෙල්ලත් රිදෙනවා දැන් ආරාමයේ. ආන්න ඈතින් අම්බට්ඨ එනවා. පොක්කරසාතී ඉක්මණට ඇහුවා මගේ පුත්‍ර උඹ ශ්‍රමණ භවත් ගෞතමයො දැක්කද. අනේ ඔව් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ දැක්කා. පොක්කරසාතී අහනවා, අම්බට්ඨ ඔය ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ඔය ඇත්තටම ඔය තියෙන ගුණ වලින් යුක්තයි ද? අනේ ඔය කියන ගුණ වලින් යුක්තයිමයි. යුක්ත නෑ නෙවෙයි. අනිවාර්යයෙන් යුක්තයි. මහා පුරුෂ ලක්ෂණ තිස් දෙක තියෙනවා, අනේ තියෙනවා. තවම කිව්වෙ නෑ කතාව. ඊටපස්සෙ පොක්කරසාතී අහනවා ඈ අම්බට්ඨ, උඹයි ශ්‍රමණ භවත් ගෞතමයන් අතර කතාවක් ඇතිවුනාද, ඔව් කතාවක් ඇතිවුනා. ඉතින් මොකක්ද ඇතිවුන කතාව. සියලූම කතාව කිව්වා. සියලූම කතාව කියනකොට අම්බට්ඨයා දාසි පුත්‍රයෙක් කියලා කියවුනා. හරිද. ඊටපස්සෙ පොක්කරසාතිගේ වැරදි ටික, ඒ කියන්නෙ පොක්කරසාතී ශ්‍රමණයන්ට බැනපු ඒවා, පොක්කරසාතී කොසොල් මහා රජ්ජුරුවො ආවට පස්සෙ සළුවෙන් එහා පැත්තෙ ඉඳගෙන කතා කරන ඒවා ඒ ඔක්කොම කියවුනා. කියවෙච්චි ගමන් පොක්කරසාතී දැන් මොකක්ද කිව්වෙ අම්බට්ඨට. අයියෝ මේකද අපේ මහලොකු පණ්ඩිතයා, මේකද අපේ මහලොකු බහුශ්‍රැතයා. අයියෝ මේකද අපේ මහලොකු ත්‍රිවිද්‍යාධරයා. මේ ජාතියේ එකෙක් ඇසුරු කරපු මං අපායෙ යයි. මේ අසත්පුරුෂ අන්ධබාලයෙක්. අම්බට්ඨයා තෝ එකට එකට හැප්පෙන්න ගියාද ශ්‍රමණ භවත් ගෞතමයොත් එක්ක මේ කුලවංශයක් කියාගෙන. ඒයි අම්බට්ඨ තෝ කුලවංශය කිය කියා හැප්පෙන්න ගිය නිසා නේද ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අපේ

අතීතය එළියට ඇද ඇද එක එක පෙන්න පෙන්නා දුන්නෙ තෝ හැප්පෙන්න ගිය නිසා නේද කිව්වා. ඒ නිසා අම්බට්ඨ තෝ අපේ මහා ලොකු බහුශ්‍රැතයා, පණ්ඩිතයා, ත්‍රිවිද්‍යාධරයා කියලා මහලොකුවට තෝ අපි ඉස්සරහපිට සෙල්ලම් දාගෙන හිටියා නේද, දාසිපුත්‍රයා පලයන්න කියලා ගැහුවා පයින් එකක් අම්බට්ඨයා උඩුකුරුඇද්ඇදං වෙලා වැටුනා අම්බටඨයා. ඊටපස්සෙ අම්බට්ඨ කැගහගෙන දැන් ගුලිවෙලා වැටුනා. දැන් වයසට ගියත් පොක්කරසාතී මොනවාහරි ශිල්ප දැනගෙන තියෙන්න ඇති කරාටි වගේ දෙයක්. පොක්කරසාතී වයසක මනුස්සයා ගැහුවනෙ අම්බට්ඨට විසිවෙන්න. අම්බට්ඨ දැන් එහෙනුත් ඉවරයි, මෙහෙනුත් ඉවරයි. ඊටපස්සෙ කිව්වා හරි මං තමුසෙගෙ වැඩ ටික බලාගන්නම්කො. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේත් එක්ක හැප්පෙන්න ගිය එක තොට හොඳ නෑ. අපිටත් හොඳ නෑ කියලා දැන් යන්න හදනකොට අම්බට්ඨයා වැටිලා කෙඳිරි ගගා ඉද්දින් කිව්වා, වැඳගෙන කිව්වා අනේ පොක්කරසාතී බ්‍රාහ්මණය යන්න එපා. දැන් යන්න එපා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මුණගැහෙන්න. උන්වහන්සේ විවේකයෙන් හිටපුවාවෙ, ඔබවහන්සේ හෙට යන්න. ඉතින් පහුවදා පොක්කරසාතී බ්‍රාහ්මණයා හොඳට කන බොන දේවල් කරත්තවලට පටවාගෙන, පන්සීයක් නමකට ආහාර පොක්කරසාතී බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ ළඟට ගියා. බුදුරජාණන් වහන්සේ ළඟට ගිහිල්ලා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, අම්බට්ඨ කියලා අපේ මේ කොල්ලෙක් හිටියා, මේ පැත්තෙ ආවද භාග්‍යවතුන් වහන්ස? බුදුරජාණන් වහන්සේ වදාළා පොක්කරසාතී අම්බට්ඨ කියලා මානවකයෙක් ඊයෙ ආවා මෙහෙ. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස ඔය අම්බට්ඨයා මොකක්හරි කතාවක් බහක් කලාද? අම්බට්ඨගෙ කතාබහක් වුනා. භාග්‍යවතුන් වහන්සේට කරදරයක් නැත්නම් කියන්න පුලුවන්ද? අර කතාව ඔක්කොම කිව්වා. ඔක්කොම කිව්වා පොක්කරසාතිගේ පැටිකිරියයි ඔක්කොම. අද කාලෙ නම් ඕවා අඩු කරලනෙ කියන්නෙ, එයාට බැනපු ටික කියන් නෑ. භාග්‍යවතුන් වහන්සේ ඔක්කොම කිව්වා. ඊටපස්සෙ පොක්කරසාතී කිව්වා භවත් ගෞතමයන් වහන්ස, ඔය අම්බට්ඨයා හරි මෝඩයි, ඕකා මන්දබුද්ධිකයි. ඒ නිසා ඔය ඕකා කියන ඒවා එච්චර හිතන්න එපා. අපේ කණ්ඩායමේම ඉන්න මෝඩම කෙනා කිව්වා. ඉස්සර කොහොමද කිව්වෙ, අම්බට්ඨ උඹට යම් මොළයක් තියෙනවා නම් ඒක මටත් ඇත, මගේ යම් මොළයක් තියෙනවා නම් අම්බට්ඨ උඹට ඒකත් ඇති කියලා තමයි මුලින් කිව්වෙ. දැන් මේකා නිකං මානසික ලෙඩෙක් ගණයට දැම්මා. ඊටපස්සෙ පොක්කරසාති බ්‍රාහ්මණයා,

භාග්‍යවතුන් වහන්සේගේ ශරීරයේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණ බැලුවා. බලනකොට අර කෝසෝහිත වත්තගුය්හයි පහූත ජිව්හායි කියන ලක්ෂණ දෙක දුටුවෙ නෑ, බුදුරජාණන් වහන්සේ සෘද්ධියෙන් පෙන්නුවා. එතකොට පුදුම විදියට සන්තෝෂයට පත්වුනා. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මහා පුරුෂ ලක්ෂණ තිස් දෙකෙන් සමන්විතයි කියලා, බුදුරජාණන් වහන්සේ ගැන ඉතාමත් සන්තෝෂයට පත්වෙලා ස්වාමීනී අද දවසේ මගේ දානය ඉවසන්න පුලුවන් ද කියලා ඇහුවා. නිහඬ වුනා. එදා දානෙ දැන් කරත්ත වල ගෙනල්ලානෙ. ඒ කරත්තවලට ගෙනාපු දානෙ ටික එක තැනකදින් බුදුරජාණන් වහන්සේ ඇතුළු සංඝයාට වැළඳෙව්වා. දානෙ වළඳලා අවසානෙ පුංචි ආසනයක් අරන් බුදුරජාණන් වහන්සේ ළඟ අසුන් ගත්තා, පොක්කරසාති. බුදුරජාණන් වහන්සේ පොක්කරසාතී බ්‍රාහ්මණයාට දාන කතා, සීල කතා, සග්ග කතා ආදී වශයෙන් ආනුපුබ්බිකතාව, පිළිවෙලින් දහම් කතාව වදාළා. ඉතාමත් ප්‍රීතියට පත්වෙලා හිත ඉතාමත් සැනසිල්ලේ ප්‍රීතියේ අවබෝධයට සුදුසු මට්ටමට පත්වෙනකොට බුදුවරුන් විසින් දේශනා කරන සාමුක්කංසික දේශනාව නම් වූ දුක්ඛ සමුදය නිරෝධ මාර්ගය කියන චතුරාර්ය සත්‍යය ධර්මය ප්‍රකාශ කලා. ඒ ප්‍රකාශ කරනකොට ඉතාමත් පිරිසිදු වස්ත්‍රයකට සායම් පොවනකොට සායම් හොඳින් අර වස්ත්‍රයට කාවද්දගන්නවා වගේ ඒ හිතට ආර්ය සත්‍යය ප්‍රකට වෙන්න ගත්තා. යං කිඤ්චි සමුදය ධම්මං සබ්බන්ථං නිරෝධ ධම්මං යමක් හේතූන් නිසා හටගන්නවාද හේතු නැතිවීමේන් එය නැතිවී යන බව දහම් ඇස පහළ වුනා පොක්කරසාතී බ්‍රාහ්මණයාට. සෝවාන් වුනා. එහෙනම් පින තිබ්බෙ අම්බට්ඨට නෙවෙයි. පොක්කරසාතිට. අම්බට්ඨට තිබ්බෙ ගුටිකන එකක්. ඒ නිසා අම්බට්ඨ ගුටිකාලම වැටුනා. පොක්කරසාතී සෝවාන් වුනා. ධර්මය දැකපු කෙසේද කෙසේද කියන සැකයෙන් එතෙර වුන පොක්කරසාතී බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ ඉදිරියේ කියාහිටියා, අභික්කන්තං භන්තෙ, අභික්නතං භන්තෙ. සුන්දරයි සුන්දරයි භාග්‍යවතුන් වහන්ස, යටට හැරවුනු දෙයක් උඩට හැරෙව්වා වගේ, වහලා තිබ්බ දෙයක් ඇරලා පෙන්නුවා වගේ මංමුලාවූ කෙනෙකුට පාර පෙන්නුවා වගේ, ඇස් ඇති අයට රූප බලන්න අඳුරේ තෙල් පහනක් දැල්වුවා වගේ. නොයෙක් අයුරින් භාග්‍යවතුන් වහන්සේ දහම් දේශනා කලා. මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ශ්‍රී සද්ධර්මය සරණ යනවා. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා. බලන්න සෝවාන් වෙච්චි අයත් උදම් අනන්නෙ එහෙමනෙ. මං බුදුරජාණන් වහන්සෙ සරණ යනවා, ධර්මය සරණ යනවා, සංඝයා සරණ යනවා කියලා. ඊටපස්සෙ කියනවා ස්වාමීනී

භාග්‍යවතුන් වහන්ස, අද පටන් දිවි තිබෙන තුරාවට තෙරුවන් සරණ ගිය උපාසකයෙක් විදියට මාව දරාගන්න. ඒ මං පුතුන් සහිතව, බිරින්දෑ සහිතව පිරිස් සහිතව, ඇමැතිවරුන් සහිතව භවත් ගෞතමයන් වහන්සේ සරණ යනවා, ධර්මය සරණ යනවා, සංඝයා සරණ යනවා. දිවි තිබෙනතුරාවට මං උපාසකයෙක් විදියට පිළිගන්නා සේක්වා. ගෞතමයන් වහන්සේ උක්කට්ඨා නගරයට ආවොත් උපාසක පවුල් වලට ගියොත් අනිවාර්යයෙන්ම මගේ ශාස්තෘන් වහන්සේ පොක්කරසාතී බමුණාගේ ගෙදරටත් වඩින්න. යම් මානවකයෙක් වේවා, මානවිකාවක් වේවා භවත් ගෞතමයන් වහන්සේට ආදරයෙන් වදිනවාමයි අපේ පවුලේ. යටහත් පැවතුම් දක්වනවාමයි. අසුන් පනවනවාමයි, වළඳවන්න දන් පැන් දෙනවාමයි, හිත පහදවාගන්නවාමයි. අපිට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා. භාග්‍යවතුන් වහන්සේ වදාළා පොක්කරසාතී නුඹ යහපත් දෙයක් කිව්වෙ. ඔයයි ඒ තමයි අම්බට්ඨ සූත්‍රය. බුදුරජාණන් වහන්සේ සරණ ගිය ශ්‍රාවකයන්ගේ ආනුභාවය. ඒ නිසා ඔබත් මේසා ආනුභාවසම්පන්න බුදුරජාණන් වහන්සේ දිවි තිබෙන තුරු නිවන් දකිනතුරු සරණ යන්න. ඔබත් දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ශ්‍රී සද්ධර්මය සරණ යන්න. ඔබත් දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මේ උතුම් තිසරණය අපගේ ජීවිතයට එකම පිළිසරණ වේවා කියලා හිතන්න. ඒක ඔබට බොහෝ කාලයක් යහපත පිණිස පවතිනවා.

ඉතින් අද දවසේ මේ සොඳුරු දහම්කතාව ඉෂ්ට සිද්ධ කරමින් ධර්ම දානය පැවැත්වූ අංක 23/බී, දෙවෙනි පටුමග, මහබාගේ ලිපිනයේ පදිංචි පින්වත් මිථිලා ගුණසේකර මහත්මිය, රවින්ද ජයසූරිය මහත්මයා, සෙනෙතු බිම්සත් පුතා සහ සිතුමි සෙහංසා දියණිය, බොහෝ පිනක් රැස්කරගත්තා, ඒ ඇත්තන්ට බොහෝ කල් හිත සුව පිණිස පවතිනවා අසිරිමත් සම්බුදු සරණේ සැනසී නිවනින් සැනසෙත්වා කියලා පින් පමුණුවනවා. සියලු දෙවියෝ පින් අනුමෝදන් වෙත්වා. මේ සියලු දෙනා රැකගනිත්වා. මියගිය ඥාතීහු මේ පින් අනුමෝදන් වී පරලොව සැපයට පත්වේවා. ඒ වගේම මේ උතුම් මිහිරි ශ්‍රී සද්ධර්මය අපිට කියලා දුන්නු අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂම ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු ගරුතර මහා සංඝරත්නයටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් ධර්මාවබෝධය පිණිස මේ පින් හේතු උපකාර වේවා. ඇමරිකාවේ පදිංචි සුජීවා සෙනරත්

මෑණියන්, දුමින්ද සුජීව පියාණන්, එන්ජලිකා ලොකු දියණිය, කිරන් පුතණුවන්, ඒ වගේම ඇන්ඩෘ පුතණුවන් සහ සුවිණී දියණිය පවුලේ සියලු දෙනාට, ඒ වගේම මේ දරුවන්ගේ අධ්‍යාපන කටයුතු සාර්ථක වීමට මේ සියලු පින් උපකාරී වේවා. ඔබ අපි කාටත් අසිරිමත් සම්බුදු සරණින් සැනසී ගෞතම සසුනේ පිහිට ලබන්නට වාසනාව ලැබේවා, උතුම් චතුරාර්ය සත්‍යය ධර්මයම අවබෝධ වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=7Zxx9Nb45SU&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=80

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් පිරිසක් විසින්. ඒ පින්කමට සහසම්බන්ධ වෙන මහත්මියත් ඒ මහත්මියගේ ස්වාමිපුරුෂයාටත් පවුලේ දෙමාපියන්ටත්, ඥාති මිතුරන්ටත් නිදුක් නිරෝගී සුව ධර්මාවබෝධය පතා අද අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා

දායකත්වය දරන්නෙ. ඉතින් පින්වත්නි ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අනන්ත ආනුභාවය කියවෙන බුදුරජාණන් වහන්සේගේ සම්බුදු දිවියේ අසිරිය කියවෙන මේ උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරමින් මේ පින්වතුන් බොහෝ පින් රැස් කරගන්නවා. ඒ ගැන හිතලා පළමුවෙන් සන්තෝෂයට පත්වෙන්න ඕන. පින්වතුනි අපි මේ දවස් ටිකේ කතා කරමින් සිටින්නේ බ්‍රාහ්මණයො, ඒ කියන්නෙ බමුණන් විසින් ඒ කාලෙ සමාජය ආධිපත්‍යය ගන්න කැසකවද්දි ඒ සඳහා මහත් අරගලයක යෙදෙද්දි අහිංසක කුලහීන මිනිස්සු පාගලා තියෙද්දි ඒ බමුණන්ගේ මතවාද කණ්ඩනය කරමින් භාග්‍යවතුන් වහන්සේ මේ ලෝකයේ පරම පිවිතුරු ශ්‍රී සද්ධර්මය දේශනා කරපු ආකාරය. ඒ කාලයේ බුදුරජාණන් වහන්සේ මේ ප්‍රශ්න වලට මුහුණ දුන්නු ආකාරය අනුව තමයි අපිට බුදුරජාණන් වහන්සේ ගැන පැහැදීම ඇතිවෙන්නෙ. ඇත්තටම දැන් මේ දවස් ටිකේ අපි කිය කියා ඉන්නෙ දීඝ නිකායේ සූත්‍ර දේශනා. එතකොට මම ගොඩාක් අකුරෙන් අකුර විස්තර කරන්න උත්සාහ කලේ නෑ. මම ඒ සිද්ධිය ඉස්මතු කරලා අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේගේ අනන්ත බුදුගුණ ආනුභාවය ප්‍රකට කරන්න තමයි උත්සාහ කලේ. ඒ තුළින් යම්කිසි කෙනෙකුට හිතේ චිත්තප්‍රසාදයක් ඇතිවුනොත් ඒක ඒ කෙනාට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතින නිසා. අදත් ඒ වාගේ දෙයක්. අදත් බමුණෙක්ගේ කතාවක්, භාග්‍යවතුන් වහන්සේ ඒ බමුණන්ගේ මත කණ්ඩනය කරන ආකාරය. දීඝ නිකායේ ඒ සූත්‍ර දේශනාව සඳහන් වෙන්නෙ. ලෝහිච්ච සූත්‍රය. ලෝහිච්ච බ්‍රාහ්මණයාට වදාළ දෙසුම. ඒ දවස්වල භාග්‍යවතුන් වහන්සේ පන්සීයක් පමණ මහත් භික්ෂු සංඝයා සමඟ කෝසලයේ චාරිකාවේ වඩිද්දි සාලවතී ගමටත් වැඩම කලා. ඒ ගමේ ඉන්නවා ලෝහිච්ච කියලා බ්‍රාහ්මණයෙක්, පසේනදී කොසොල් රජ්ජුරුවො ඒ ගම ඔහුට ගම්වරයක් විදියට තෑගි දීලා තියෙන්නෙ. එතකොට ඒ කාලෙ වේද වේදාන්තරයන්ගෙන් කෙළ පැමිණි මහා බ්‍රාහ්මණයො ඉදලා තියෙනවා ප්‍රභූ බ්‍රාහ්මණයො. ඒ අයට රජවරුත් සන්තෝෂයට පත්වෙලා ඒ ගම්වර දීලා තියෙනවා. ඉතින් ඒ ගමේම ආදායම ඒ බමුණට දුන්නට පස්සෙ ඒ බමුණා තව තවත් ඉහළ යනවා. ගිහිල්ලා ඒ මුළු ප්‍රදේශයම ඒ බමුණට යටත් වෙනවා. දැන් බලන්නකො පොක්කරසාති, පොක්කරසාතී බ්‍රාහ්මණයට ඒ ගම කොසොල් රජ්ජුරුවො ගම්වරයක් දීලා බුදුරජාණන් වහන්සේ දේශනා කරනවානෙ කොසොල් රජ්ජුරුවො පොක්කරසාතී මුණගැහෙන්න ගියාමත් කොසොල් රජ්ජුරුවන්ටත් මූණ පෙන්නන්නැතිව තිරයකින් එහා ඉදලා බමුණා කතා

කරන්නෙ කියලා. එතකොට ඒ බමුණන්ගේ ආධිපත්‍යය බමුණො රැකගන්න කරපු දේවල්. ඉතින් ඒ කාලෙ ලෝහිච්ච බමුණාට පාපී දෘෂ්ටියක් ඇතිවෙලා තියෙනවා ඒ තමයි ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ කුසල් උපද්දවගෙන ඉන්නවා නම් ඒවා අනිත් අයට කියන්න හොඳ නෑ. තමන් මොනවාහරි ධර්මයක් දියුණු කරලා යම්කිසි උත්තරීතර දෙයක් ලබලා තියෙනවා නම් ඕවා අනිත් අයට කිය කියා යන්න ඕන නෑ. තව කෙනෙක් තව කෙනෙකුට කවර නම් දෙයක් කරන්නද. මේ තව කෙනෙක් බණ කියලා අනිත් එක්කෙනාට මොනවා කරන්නද. හරියට තමන් මේකෙන් නිදහස් වෙලා අනිත් අයත් මේකට කැටුව යන්න හදන්නෙ එක බන්ධනයක් බිඳලා ආයෙ අලුත් බන්ධනයක් හදා ගන්නවා වගේ. ඒ නිසා තමන් උපදවාගත් කුසල ධර්මයෝ අනිත් අයට කියන්න යන එක ඒ ඇත්තන්ගේ ලෝභකම. මිනිස්සුන්ට ලෝභයි, ශ්‍රාවකයන්ට ලෝභයි, තව කෙනෙක් තවකෙනෙකුට කවර නම් දෙයක් කරන්නද. ඒ කියන්නෙ තමන් බණ දන්නවා නම් අනිත් එවුන්ට නොකියා හිටපල්ලා. කියලා තමයි දැන් ලෝහිච්චගේ දෘෂ්ටිය. එයා කැමැති නෑ අනිත් අය බණ කියනවාට. ඉතින් ඔය විදියට තමයි ලෝහිච්ච බමුණා ඉන්නෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඔය ගමට වැඩියාට පස්සෙ ලෝහිච්ච බ්‍රාහ්මණයාටත් අහන්න ලැබුනා ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ වැඩලා ශාක්‍ය කුලයෙන් නික්මුණ, ශාක්‍ය කුලයෙන් පැවිදි වුන ශ්‍රමණයන් වහන්සේ නමක්. උන්වහන්සේ අරහං, සම්මා සම්බුද්ධ, විජ්ජාචරණ සම්පන්න, සුගත, ලෝකවිදූ, අනුත්තරෝ පුරිසදම්ම සාරථී, සත්තා දේවමනුස්සානං, බුද්ධ, භගවා කියන ගුණවලින් යුක්ත කෙනෙක්. උන්වහන්සේ මුල, මැද, අග පිරිසිදු ධර්මය දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ දේශනා කරනවා, මුල, මැද, අග පිරිසිදුයි, සම්පූර්ණයෙන් විමුක්ති මාර්ගය. ඉතින් ඒ වාගේ රහතන් වහන්සේ නමක් දකින්න ලැබුනත් කොයිතරම් වාසනාවක් ද කියලා මිනිස්සු කතාවෙනවා අහන්න ලැබුනා. ඉතින් ලෝහිච්ච බ්‍රාහ්මණයාටත් මේක අහන්න ලැබිලා, ලෝහිච්ච බ්‍රාහ්මණයා භේසිකා කියලා තමාව නාවන කෙනාට කතා කලා. යහළු භේසික, මෙහෙ වරෙන්. උඹ දැන් යන්න ඕන සාලවතී ගමේ ශ්‍රමණයන් වහන්සේ ගෞතමයන් වහන්සේ දැන් වැඩලා. ගිහිල්ලා සැප සම්පත් කොහොමද, පහසුවෙන් ආවද, සුවසේ වැඩියාද කියලා ඉස්සෙල්ලා සුවපහසුව විමසපං. විමසලා උඹ කියාපං ලෝහිච්ච බ්‍රාහ්මණයා ඔබවහන්සේගේ සුව දුක් විමසනවාය, හෙට දවසේ දානෙට ඔබවහන්සේ සහිත සංඝයාට ආරාධනා කරනවා කියලා. බලමු දැන් මොකක්ද වෙන්නේ කියලා. ඊටපස්සෙ දැන් නහවන

හේසිකා ලෝහිච්ච බමුණට එහෙම කියලා ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේට වන්දනා කරලා එකත් පස්ව වාඩි වුනා. ගිහිල්ලා කිව්වා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ලෝහිච්ච බ්‍රාහ්මණයා භාග්‍යවතුන් වහන්සේගේ සුවදුක් සැප සනීප ආගිය වැලගිය තොරතුරු විමසනවා. ඒ වාගේම ඔබවහන්සේට හෙට සංඝයාත් සමඟ ලෝහිච්ච බ්‍රාහ්මණයාගේ නිවසේ දානයට ආරාධනා කලා කියලා කියාහිටිනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ නිහඬව දානෙ පිළිගත්තා. ඉවසා වදාළා. එතකොට හේසිකා ගිහිල්ලා ලෝහිච්ච බමුණට කිව්වා, ලෝහිච්ච බමුණා ඉතාමත් සන්තෝෂයෙන් සතුටින් ගෙදර දානෙ හරිගස්සලා උදේම ආපහු හේසිකා යැව්වා පලයං දානෙ හදලා ඉවරයි, සංඝයා වඩම්මගෙන වරෙන්. ඉතින් මේ හේසිකා කියන දිය නහවන කෙනා භාග්‍යවතුන් වහන්සේ වඩම්මගෙන එන්න ගිහිල්ලා බුදුරජාණන් වහන්සේගේ පිටිපස්සෙන් පිටිපස්සෙන් එනවා. එන ගමන් මගදින් කියනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ඔය ලෝහිච්ච බ්‍රාහ්මණයාගේ තියෙනවා දෘෂ්ටියක්. ඒ තමයි තමන් යම් දහමක් අවබෝධ කලා නම් ඒක අනිත් අයට කියන්න ඕන නෑ, ඒ මොන අහවල් කෙහෙල්මලකට අනිත් අයට බණ කිය කියා යනවාද, තමන් දන්න දේ තමන් පාඩුවෙ තියන් ඉන්න එපැයි, තමන් කෙලෙස් නැසුවා නම් ආයෙ අනිත් එවුන්ට මොනවටද ඕවා කියන්නෙ, එක බන්ධනයක් නසලා තවත් එකක් ලෑස්තිකරගන්නවා වගේ නේද මේ අනිත් අයට බණ කියන්න යන එක, මේ උන්නාන්සෙලා පාඩුවෙ ඉන්නෑනෙ කියලා දෘෂ්ටියක් තියෙනවා. ඉතින් ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, භාග්‍යවතුන් වහන්සේට පුලුවන් නම් ඔය ලෝහිච්ච බ්‍රාහ්මණයාගේ ඔය පාපී දෘෂ්ටිය නැතිකරන්න ලොකු දෙයක් කිව්වා. භාග්‍යවතුන් වහන්සේ වදාළා පින්වත් හේසික ඒක එහෙම වෙයි. පින්වත් හේසික ඒක එහෙම වෙයි කිව්වා. ඉතින් හරි සතුටුයි හේසිකට. හේසිකා භාග්‍යවතුන් වහන්සේ වැඩම්මුවා ලෝහිච්ච බ්‍රාහ්මණයාගේ නිවසට. ලෝහිච්ච බ්‍රාහ්මණයා ඉතාමත් හොඳින් සතුටින් සංඝයාට දන් පැන් පූජා කලා, භාග්‍යවතුන් වහන්සේට දානය පූජා කලා. කියන්නෙ සාමාන්‍යයෙන් ඉස්සර සමහර බමුණො ඉන්නවා දන් දෙන්න හරි ආසයි. ඊටපස්සෙ දානෙ ඉවරවුනාට පස්සෙ පොඩි ආසනයක් අරගෙන බුදුරජාණන් වහන්සේ ඉස්සරහපිට තියලා ඉඳගත්තා. ඉඳගෙන බුදුරජාණන් වහන්සේ එකපාර ඇහුවා, ඈ ලෝහිච්ච ඇත්තද මේ කියන්නෙ ඔබ මෙහෙම කතාවක් කියනවා කියලා. ඒ කියන්නෙ මේ කුසල් දහම් කෙනෙක් උපද්දවගත්තනම් පාඩුවෙ ඉන්න එපායෑ, අනිත් එවුන්ට අහවල් කෙහෙල්මලට මේවා කියන්න යනවාද, ඊළඟට ඒකෙන් වෙන්නෙ තවත්

බන්ධනයක් සිඳලා අලුත් බන්ධනයක් ලැහැස්ති කරගන්නවා වගේ නේද, ශ්‍රාවකයො හදාගන්න තියෙන ලෝභකමට නේද ඔහොම කියන්නෙ. ඉතින් පාඩුවෙ අවබෝධ කරපු ධර්මය පාඩුවෙ තියාගෙන ඉන්නැතිව මොකට නම් අහවල් එක එක්කෙනාට බණ කියන්න යනවද කියලා අන් අයට ධර්මය දේශනා කරන්න එපා කියනවා වගේ පාපී දෘෂ්ටියක වගේ ඉන්නවා කියන්නෙ ඇත්තද කියලා ඇහුවා. කිව්වා මට නම් එහෙම අදහසක් තියෙනවා තමයි කිව්වා. ලෝහිච්ච කිව්වා මට එහෙම අදහසක් තියෙනවා. හරි, ලෝහිච්ච ඔබ මොකක්ද මේ ගැන හිතන්නෙ. ලෝහිච්ච යම්කිසි කෙනෙක් මෙහෙම කිව්වොත් ලෝහිච්ච බ්‍රාහ්මණයා සාලවතිකාවේ ප්‍රධානියා වශයෙන් ඉන්නවා, එයා තමයි ගම් ප්‍රධානියා. ඉතින් සාලවතිකා ගමේ යම් ධන ධාන්‍යයක් තියෙනවා නම් ඒක ලෝහිච්ච බ්‍රාහ්මණයා විතරක් තනියම භුක්ති විඳින්න ඕන, අනිත් අයට නම් දෙන්න එපා කියලා කියනවා. ඈ ලෝහිච්ච, එතකොට ඒ ඔබගේ ඇසුරේ ඉන්න, ලෝහිච්ච බ්‍රාහ්මණයාගේ ඇසුරේ ඉන්න මිනිස්සුන්ට ලැබෙන දේවල් එයාලා වැළැක්වුවාද නැද්ද කියලා ඇහුවා. ස්වාමීනී ලැබෙන්න තියෙන දේවල් වැළැක්වුවා. ලැබෙන දේට අන්තරාය කලා. ලෝහිච්ච තවත් යම්කිසි කෙනෙකුට ලැබෙන්න තියෙන දේකට අනතුරු කරන එක අනුකම්පාවෙන් යුතු දෙයක් ද, අනුකම්පා රහිත දෙයක් ද. ස්වාමීනී අනුකම්පා රහිත දෙයක්. අනුකම්පා රහිත කෙනෙක් තුළ තියෙන්නෙ මෛත්‍රියද, සතුරු සිත ද. ස්වාමීනී සතුරු සිත. යමෙකුගේ හිතේ සතුරුකම තියෙනවා නම් එයා මිත්‍යාදෘෂ්ටියෙන් යුක්තයි ද, සම්මාදිට්ඨියෙන් යුක්තයි ද. ස්වාමීනී මිත්‍යාදෘෂ්ටියෙන් යුක්තයි. ලෝහිච්ච මිත්‍යා දෘෂ්ටියෙන් යුතු කෙනාට මම නම් කියන්නෙ උපත් දෙකයි තියෙන්නෙ. එක්කො නිරයේ, එක්කො තිරිසන් ලෝකෙ. හරි ලෝහිච්ච මොකක්ද ඔබ හිතන්න කෙනෙක් කියනවා මේ කොසොල් රජ්ජුරුවො කාසිකෝසල ජනපදය අධිපති වෙලානෙ ඉන්නෙ. පසේනදි කොසොල් රජ්ජුරුවො කාසිකෝසලයේ සියලු ධන ධාන්‍ය තනියෙන් භුක්ති විඳින්න ඕන වෙන කිසි කෙනෙකුට දෙන්න හොඳ නෑ කිව්වොත් කොසොල් රජ්ජුරුවන්ගේ යටතේ ඉන්න අයට ලැබෙන දේවල් වලට එයා අන්තරාය කලාද නැද්ද. කලා කියලා කිව්වා. යමක් අන්තරාය කරනවා නම් ලැබෙන දේවල් වලට එයා අනුකම්පා සහිත කෙනෙක්ද, අනුකම්පා නැති කෙනෙක්ද. අනුකම්පා නෑ කිව්වා. අනුකම්පාව කියන එක හිතේ නැත්නම් එයා මෛත්‍රියෙන් යුක්තයිද සතුරු සිතින් යුක්තයි ද. ස්වාමීනී සතුරු සිතින් යුක්තයි. සතුරුකමක් හිතේ තියෙනවා නම් එයා ඉන්නෙ සම්මා දිට්ඨියෙන්ද, මිත්‍යා

දෘෂ්ටියෙන්ද. ස්වාමීනී මිත්‍යා දෘෂ්ටියෙන්. ලෝහිච්ච මිච්ඡා දිට්ඨියෙන් යුතු කෙනාට මම උපත් දෙකයි කියන්නෙ. ඒ තමයි එක්කො නිරය, එක්කො තිරිසන් ලෝකෙ. ලෝහිච්ච ඔබ කුමක්ද හිතන්නෙ. යම්කිසි කෙනෙක් ලෝහිච්ච බ්‍රාහ්මණයාගේ ගමේ ලෝහිච්ච බ්‍රාහ්මණයා පරිභෝග කරන ධනය ඔහු විතරක්ම පරිභෝග කළ යුතුයි කියලා අනිත් අයට නොදිය යුතුයි කියලා හිතන කෙනා අනිත් අයට අන්තරාය කරනවා, ලාභයට අන්තරාය කරනවා, අනුකම්පා රහිතයි, ඊළඟට සතුරු සිතින් යුක්තයි, මිත්‍යා දෘෂ්ටියෙන් යුක්තයි, ආන්න ඒ වගේමයි යම් කෙනෙක් කීවොත්, ඔය වගේම තමයි කිව්වා, යම්කිසි කෙනෙක් කිව්වොත් තමන් බණ දහම් දන්නවා නම්, තමන් අවබෝධ කරලා ඉන්නවා නම් ඒක පාඩුවෙ තියාගෙන ඉන්න, මේ අනිත් අයට කිය කියා යන්න එපා, මොන කෙහෙල්මලකට අනිත් එවුන්ට බණ කියනවාද, තමන්ගේ පාඩුවෙ තමන් පැත්තකට වෙලා ඉන්න එපැයි, තමන් කෙලෙස් සින්දා නම් ආපහු කෙලෙස් හදාගන්න ඕන නෑනෙ. කියලා බණ කියන එකට තරහ කෙනෙක් ඉන්නවා නම් එයා අර වගේමයි කියලා කිව්වා. ඒ වගේම එතකොට කියනවා යම්කිසි කෙනෙක් තථාගතයන් වහන්සේ අවබෝධයෙන්ම දේශනා කරන ලද ධර්ම විනයට පැමිණිලා මෙබඳු උදාර වූ ශිෂ්ටාව සාක්ෂාත් කරනවා නම්, දැන් ඇත්තටම මෙයා මේ චෝදනාව කලේ බුදුරජාණන් වහන්සේට. බුදුරජාණන් වහන්සේට තමයි මේ චෝදනාව කලේ. ඒකයි බුදුරජාණන් වහන්සේ කෙලින්ම කියනවා අර වගේමයි කිව්වා මේ බණ කියන්න එපා කියන එක. යම්කිසි කෙනෙක් බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කරන්න එපා කියලා කියනවා නම්, යම්කිසි කෙනෙක් බුදුරජාණන් වහන්සේ ළඟට ඇවිල්ලා ධර්මවිනයට පැමිණිලා උදාර විශේෂතා සාක්ෂාත් කරනවා නම් ඒ කියන්නෙ සෝවාන් ඵලය, සකදාගාමී ඵලය, අනාගාමී ඵලය, අර්හත් ඵලය, ඒ වගේම යමෙක් දෙව්ලොව උපත පිණිස දිව්‍ය ගර්භයන් මුහුකුරවානම් ආන්න ඔවුන්ට අන්තරාය කරනවා. බුදුවරුන්ගේ ධර්මය දේශනා කරන්න එපා කියන අය මාර්ගඵල ගමනටත්, දිව්‍ය ලෝක ගමනටත් අන්තරාය කරනවා. ආන්න ඔවුන්ගේ හිත් තුළ අනුකම්පාවක් නෑ, සතුරු සිත් තියෙන්නෙ. මිත්‍යා දෘෂ්ටිය තියෙන්නෙ. පින්වත් ලෝහිච්ච බුදුවරුන්ගේ ධර්මය කියන්න එපා කියන අය මිත්‍යා දෘෂ්ටියෙන් යුක්තයි. ඒ අය මැරුණට පස්සෙ එක්කො තිරිසන් ලෝකෙ, නැත්නම් නිරයේ. මෙතන තව ලස්සන තව කතාවක් තියෙනවා. බුදුවරුන්ගේ ධර්මය අහනකොට කාරණා පහක් මෝරනවා. එක්කො සෝවාන්, සකදාගාමී, අනාගාමී, අර්හත්, නැත්නම් දිව්‍ය ලෝකෙ උපත පිණිස. ආන් දැන් කියනවා

න්ද දිව්‍ය ලෝකෙ යන්න බණ කියන්නෙ මොකටද. දැන් අද කාලෙ නැද්ද. නවත්තපල්ලා ඔය දිව්‍යලෝකෙ ගැන කියන බණ. අද නැද්ද. බුදුවරුන්ගේ ධර්මයට අනතුරු කරන් නැද්ද. මේ මං කියන එකක් නෙවෙයි. සෝවාන්, සකදාගාමී, අනාගාමී, අර්හත් ඒ වගේම යමෙක් දෙව්ලොව උපත පිණිස දිව්‍ය ගර්භයන් මුහුකුරවනවානම් ඔහුට අන්තරාය කරනවා බුදුගුණ කියන්න එපා කියලා. නිරයේ උපදිනවා. නැත්නම් තිරිසන් ලෝකෙ. ඔතනින් උඩ එන්න බෑ. එහෙනම් අද කාලෙත් නැද්ද, ඊළඟ ජීවිතේ නිරයේ යන තිරිසන් ලෝකෙ ඉන්න අය අද සිවුරු දාගෙන නැද්ද. මේ ජීවිතේ විතරයි. ඊටපස්සෙ තියෙනවා ලෝහිච්ච පසේනදි කොසොල් රජ්ජුරුවන්ගේ ධනය කොසොල් රජ්ජුරුවො විතරක්ම බුක්ති විඳපල්ලා අනිත් කිසි කෙනෙකුට දෙන්න එපා කියලා කියන එකෙක් ඉන්නවා නම් එයා කොසොල් රජ්ජුරුවො යටතේ ඉන්න අයට අන්තරාය කරනවා, ලාභෙට අන්තරාය කරනවා ඒ අයට ලැබෙන දේවල් වලට. අනුකම්පා රහිතයි. මෛත්‍රී සිතෙන් තොරයි, සතුරු සිතෙන් ඉන්නෙ. මිත්‍යා දෘෂ්ටියෙන් යුක්තයි. ඔය වගේම තමයි අනිත් අයටත් ධර්මය කියන්න එපා කියලා කියන කෙනාගෙ කතාව. එතකොට බුදු කෙනෙක් ළඟට ඇවිල්ලා කෙනෙක් සෝවාන් වෙනවා නම්, සකදාගාමී වෙනවා නම්, අනාගාමී වෙනවා නම්, අර්හත්වයට පත්වෙනවා නම් ඒ වගේම දිව්‍ය ලෝකය පිණිස දිව්‍ය ගර්භය මෝරනවා නම් දෙව්ලොව පිණිස පින් පිරෙනවා නම් ඒ ඔක්කොටම වළක්වනවා අර කෙනා. ඉතින් ඒ කෙනා මැරුණට පස්සෙ උපත් දෙකකට යන්නෙ, දෙකින් එකකට. එක්කො නිරයෙ, එක්කො තිරිසන් ලෝකෙ. භයානකයි. ඒකයි මේ කියන්නෙ මේ නිකාං මිනිස්සු නිකං පණ්ඩිත වෙලා කතා කරනවා සියල්ල අවබෝධ කලා වගේ. මොන දිව්‍ය ලෝකයක්ද, ඉතින් දැන් මේ ධර්මය පැහැදිළිවම දැන් අපි මේ තුණුරුවන් සරණට වරෙල්ලා කියලා බුදුසරණ දහම් වැඩසටහන කරද්දි, අසිරිමත් සම්බුදු සරණ චතුරාර්ය සත්‍යය ගැන වෙනම දේශනාවල් වෙනම ගියා. පටිච්ච සමුප්පාදය ගැන වෙනම දේශනා, මාර්ග ඵල අවබෝධය ගැන වෙනම දේශනා, කොච්චර දේශනාවන් කරනවාද. එතකොට බුද්ධ ශාසනය මෙයයි, ධර්මය මෙයයි, මෙන්න ත්‍රිපිටකය, මෙන්න විස්තර කියලා හැමදෙයක්ම විවෘත කරගෙන යන්නෙ, හංඟලා නෑනෙ. ඔන්න චතුරාර්ය සත්‍යය ඊළඟට හංගලා නම්, පටිච්ච සමුප්පාද ධර්මය හංඟලා නම්, ආයතන ස්කන්ධ ධාතු වශයෙන් අවබෝධ කරන ධර්මය හංගලා දිව්‍ය ලෝකය විතරක්ම කියනවා නම් කෙනෙකුට වචනයක් කියන්න වුනත් ඉඩක් තියෙනවා. දැන් එහෙම ඉඩක්වත් නෑනෙ. ඒ නිසා හොඳටම පැහැදිලියි, හොඳටම පැහැදිලියි

සතුරු සිතින් කියන්නෙ. දිව්‍යලෝකයේ උපත පිණිස පවතින දහම් කරුණු ඉස්මතු කරද්දි ඒවට විරුද්ධ වීම සතුරු සිත. ඊටපස්සෙ තියෙනවා බුදුරජාණන් වහන්සේ වදාළා ඒවගේ අයට උපත් දෙකයි නිරය හෝ තිරිසන් ලෝකෙ. පින්වත් ලෝහිච්ච සමහර ශාස්තෘවරු ඉන්නවා. දැන් ශාස්තෘන් වහන්සේලා ගැන කියන්නෙ මේ, බණ කියන හාමුදුරුවරු ගැන නෙවෙයි කියන්නෙ මේ. ශාස්තෘවරු ඉන්නවා නින්දා ලැබිය යුතු තුන්දෙනෙක්. ඒ තමයි එක ශාස්තෘවරයෙක් ඉන්නවා. ඒ ආගමික නායකයෙක්. එයා ධර්මය අවබෝධ කරලා නෑ, එයා කිසිම ධර්මයක් අවබෝධ කරලා නෑ. නමුත් එයා ශ්‍රාවකයන්ට කියනවා මෙය යහපත පිණිස පවතිනවා, හිත සුව පිණිස පවතිනවා කියලා අන් අයට බණ කියනවා. තමන් අවබෝධ කරලත් නෑ නමුත් අන් අයට බණ කියනවා. බණ අහන අය ඩිංගිත්තක්වත් ඒ බණ අහන්න කැමැති නෑ, පිළිගන්න කැමැති නෑ, අනුගමනය කරන්න කැමැති නෑ. ඔන්න එක ශාස්තෘවරයෙක් ඉන්නවා එයා ධර්මය අවබෝධ කරලා නෑ, අනිත් අයට බණ කියනවා මේක හොඳයි මෙහෙමයි මෙහෙමයි කියලා නමුත් ඒ බණ අහන එවුන් කැමැතිත් නෑ ඒවා අහන්න, පිළිපදින්න කැමැතිත් නෑ, ඉතින් මොකද වෙන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා අන්න ඒ කෙනාට නම් නින්දා කළාට කමක් නෑ, නින්දාවට සුදුසුයි, ගැරහීමට සුදුසුයි, එයාට කියන්න පුලුවන් ඔබ මේ අනගාරික ශාසනයකට පැවිද්දකට ඇවිල්ලා බඹසර ජීවිතයකට ඇවිල්ලා ඔහේත් මොනවත් කරගෙන නෑ අනිත් අයට කිය කියා යනවා, ඒ මිනිස්සු අහන්නවත් කැමැති නෑ ඒකත් හරියට තමාව එපා කියලා අතහැර යන කෙල්ලෙක් පිටිපස්සෙ කොල්ලෙක් යනවා වගේ. අකැමැති කෙල්ලෙක් පිටිපස්සෙන් යන එක ලෝකෙන් නින්දනීයයි කියලා සම්මත. හරියට ධර්මය අවබෝධ නොකරපු කෙනෙක් අනිත් අයට ධර්මය අවබෝධ කරවන්න බණ කියනවානෙ, නමුත් එවුන් අහන්නවත් කැමැති නෑ ඒවා. ඔන්න ඔය කෙනාට කියන උපමාව තමයි, කෙල්ලෙක් අකැමැතියි කොල්ලෙක්ට. ඒ අකැමැත්ත තියෙද්දින් පිටිපස්සෙන් යනවා. තමනුත් එක තැනක නෑ පිටිපස්සෙන් යනවා. එහෙම නැත්නම්, තමාව එපා තොගෙ මූණවත් නොදකිං කියලා දමලා යන කෙල්ලෙක් පිටිපස්සෙන් ගිහිල්ලා වැළඳගන්න හදනවා වගේ එකක් කිව්වා. ඇත්තටම මේ සත්පුරුෂ ලෝකෙ තමාව අකැමැතියි කියලා පිළිකුල් කරලා අත්හැරලා යන කෙනාගේ පිටිපස්සෙන් යන එක නින්දනීය, තුච්ඡ, හිස් දෙයක් විදියට තමයි සත්පුරුෂ ලෝකයේ සළකන්නෙ. එහෙනම් අද කාලෙ කීදෙනෙක් හිස් ලෝක වල ඇති ද? නින්දනීය විදියට ඇති ද. තමාව එපා, උඹව ඕන්නෑ මට, උඹට මං කැමැති නෑ

කියද්දිත් පිටිපස්සෙන් යනවානෙ. දැන් අපේ, ළඟදින් සිද්ධියක් වුනා. ළඟදින් මොකක්ද ඒ තරුණ දුවෙකුයි පුතෙකුයි ඒ දෙන්නා යාළු වෙලා කාලයක් යනකොට අර කොල්ලා දුප්පත් අරකයි මේකයි කියලා මොනවාහරි කෙහෙල්මල් ටිකක් කියලා උඹ මට ඕන්නැය කියලා ඔන්න අත්හැරියා. අත්හරිනකොට ඒ කොල්ලා කීවා නෑ, අනේ එහෙම කරන්න එපා, එහෙම කරනවා නම්, අන්න නින්දනීය තත්ත්වයට වැටුනා. එපා කියලා අත්හරින කෙනාගෙ පිටිපස්සෙන් ගියා. පිටිපස්සෙන් පිටිපස්සෙන් යනවා. ඊටපස්සෙ කෙල්ල කිව්වා උඹ දකින්න කැමැති නෑ කියලා. කොල්ලා කියනවා, නෑ මං උඹ දිහා බලපු ඇස් දෙකෙන් ආයෙ කවුරුත් දිහා බලන්න කැමති නෑ කියලා. නෑ මට ඕන නෑ තෝ මට ඕන නෑ කියලා කෙල්ල කියනවා. ආයෙ මෙයා පිටිපස්සෙන් යනවා. ඊටපස්සෙ කොල්ලා කියනවා නෑ මං පිවිතුරු ආදරේ තියෙන්නෙ. කෙල්ල කියනවා නෑ උඹට ඕන නෑ. එහෙනම් ඔයා දිහා බලපු ඇස් දෙකෙන් මම වෙන කවුරුත් දිහා බලන් නෑ කියලා කොල්ලා ඇස් දෙකට ඇසිඩ් ගහගත්තා. තමන්ගේ ඇස් දෙක අන්ධ වුනා. අනේ ඊළඟ සතියෙ කෙල්ල වෙන කොල්ලෙක් එක්ක ගියා. අපි කතා කරනවානෙ කොල්ලගෙ පිවිතුරු ආදරේ කියලා. නමුත් සත්පුරුෂ ලෝකයේ ඔහු වැටෙන්නේ නින්දා ලැබිය යුතු තැනට. තමාව එපා කියලා අත්හැරලා යනවානම් කෙනෙක් ඕනම නෑ, ඒකට තමයි පුරුෂ වීර්යය කියන්නෙ. පිරිමිකම. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඒ වගේ වැඩ කිව්වා. තමනුත් අවබෝධ කරලා නැතුව අනිත් අයටත් අවබෝධ කරන්න යනවා, උන් අහන්න කැමැතිත් නෑ. අතෑරලා යන කෙල්ල පිටිපස්සෙ යනව වගේ. මූණවත් බලන්න බෑ කියලා හැරිලා යන කෙනෙක් පිටිපස්සෙ ගිහිල්ලා වැළඳගන්නවා වගේ. ගැරහුවට කමක් නෑ ඔය ශාස්තෘවරයාට. නින්දා කලාට කමක් නෑ, සුදුසුයි. ඒක ධාර්මිකයි. අධාර්මික නෑ. ලෝහිච්ච, තවත් ශාස්තෘවරයෙක් ඉන්නවා එයා පැවිදි වෙලා එයා කිසිම ධර්මයක් ගුණයක් උපද්දවලා නෑ, එයත් ශාසනික පිහිටක් ලබාගෙන නෑ, එයා කියනවා අනිත් අයට අවබෝධ කරපල්ලා, අවබෝධ කරපල්ලා කියනවා. එතකොට ශ්‍රාවකයො එයට සවන් දෙනවා, කන් යොමු කරනවා. අවබෝධය පිණිස හිත යොමු කරනවා. කියන විදියටම කරනවා. නමුත් ඒ ආගමික නායකයා ශාස්තෘන් වහන්සේ ඒවා කරලා නෑ. කුසල් අකුසල් එයා දන්නෑ, අනිත් අයට කියනවා. හැබැයි අහන අය හොඳට අහගෙන ඉන්නවා. අහන අය කියන විදියටම කරනවා. බුදුරජාණන් වහන්සේ වදාළා ඒ කෙනාටත් චෝදනා කරන්න සුදුසුයි. ඔය කිසි දෙයක් ඔහේ කරගෙන නෑ, අනිත් අයට කිය කියා යනවා. අනිත් අය නම් ඉතින් කන් යොමාගෙන

අහගෙන ඉන්නවා. ඔහේ කරන වැඩ හරියට තමුන්ගේ කුඹුර තිබිලා අනුන්ගේ කුඹුරේ වල් ගලවනවා වගේ කියනවා. තමන්ගේ කුඹුර තියෙද්දින් අනිත් අයගේ කුඹුරු වල වල් ගලවනවා වගේ කියනවා. ඒ වගේ ශාස්තෘවරයෙකුට නින්දා කලාට කමක් නෑ. චෝදනා කලාට කමක් නෑ. ඒ කියන දොස් එයාට සුදුසුයි. අධාර්මික නෑ. ඊටපස්සෙ කියනවා පින්වත් ලෝහිච්ච, මෙකරුණේ ලා තවත් ශාස්තෘවරයෙක් ඉන්නවා. ඒ ශාස්තෘණ් වහන්සේ තමන් ධර්මය අවබෝධ කරගෙන තමන්ට හොඳට වැටහෙනවා අවබෝධ වෙනවා, අනිත් අයටත් දේශනා කරනවා මෙහෙම කරපල්ලා මෙහෙම කරපල්ලා කියලා. ඒ අය ඒවා අහන් නෑ. ඒ අය ඒවා අහන්නෑ, දැන් පළවෙනි එක්කෙනා තමන් අවබෝධ කරලත් නෑ අනිත් අයට බණ කියනකොට ඒ අය අහන්නෙත් නෑ. දෙවෙනි එක්කෙනා තමන් අවබෝධ කරලා නෑ අනිත් අයට කියද්දින් අනිත් අය හොඳට අහනවා. මේ කෙනා, තුන්වෙනි කෙනා තමන් අවබෝධ කරලා නමුත් අනිත් අයට කියද්දින් ඒ අය අවබෝධ කරන් නෑ. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා එයාටත් නින්දා කලාට කමක් නෑ. ඔහේ ධර්මයක් අවබෝධ කරගත්තට අනිත් අයට කිව්වට එවුන් ඒක අහන්නෑ එකක්වත්. හරියට ඔහේගේ වැඩේ පරණ බන්ධනයක් සිඳලා අලුත් බන්ධනයක් හදාගත්තා වගේ කියලා එයාට චෝදනා කලාට කමක් නෑ, ඒක ධාර්මිකයි. ඒකෙ වැරැද්දක් නෑ. චෝදනා ලබන්න සුදුසුයි. ලෝහිච්ච අන් අයට බණ කියන ඔය ශාස්තෘන් වහන්සේලා තුන්දෙනා නම් බැනුම් අහන්න සුදුසුයි. කියනකොටම ලෝහිච්ච ඇහැව්වා, ඈ භවත් ගෞතමයන් වහන්ස ලෝකෙ කිසිම චෝදනාවක් ලබන්න සුදුසු නැති බණ කියන කෙනෙක්, ශාස්තෘවරයෙක් ඉන්නවාද. බුදුරජාණන් වහන්සේ වදාළා, ඉන්නවා. ගෞතමයන් වහන්ස, කවුද ඒ? චෝදනා කිසිම බැනුමක් ලබන්න නොසුදුසු ශාස්තෘන් වහන්සේ. කියනවා ලෝහිච්ච, මේ ලෝකෙට කලාතුරකින් සම්මා සම්බුදුවරයෙක් පහළ වෙනවා. උන්වහන්සේ අරහං, සම්මා සම්බුද්ධයි, විජ්ජාචරණ සම්පන්නයි, සුගතයි, ලෝකවිදූයි, අනුත්තර පුරිස ධම්ම සාරථියි, සත්තා දේව මනුස්සානං, බුද්ධ භගවා. උන්වහන්සේ මුල, මැද, අග පිරිසිදු ශ්‍රී සද්ධර්මය මුළුමනින්ම පිරිසිදු බඹසර, දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයේ ප්‍රකාශ කරනවා. දේශනා කරනවා. යම්කිසි කුලපුත්‍රයෙක්, ගෘහපතියෙක් හෝ ගෘහපති පුත්‍රයෙක්, ඕනෑම කුලයක, බ්‍රාහ්මණ වේවා, ක්ෂත්‍රිය වේවා, වෛශ්‍ය වේවා, ශුද්‍ර වේවා, වේන නේසාධ කුක්කුස චණ්ඩාල රථකාල ඕනම කුලයක වෙන්න පුලුවන්. එහෙම කුලයක කෙනෙක් ඒ ධර්මය අහනවා. ඒ ධර්මය අහලා තථාගතේ සද්ධං පටිලභති,

තථාගතයන් වහන්සේ ගැන ශ්‍රද්ධාව ලබනවා. පැහැදීම. ඔහු කල්පනා කරනවා පිරිසිදු නිවන් මාර්ගය ගිහිජීවිතේ ඉඳලා දියුණු කරන්න අමාරුයි. ඒ නිසා එයා පැවිද්ද දකිනවා ආකාශය වගේ නිදහස් තැනක් විදියට. අල්ප වූ ද මහත් වූ ද භවබෝග සම්පත්තිය අත්හරිනවා. අල්ප වූ ද මහත් වූ ද ඥාතිපරිවර්ථය අත්හරිනවා. ඊළඟට කෙස් රැවුල් බාලා කාසායවානි අර්ථානි අච්චාදෙත්වා, කසාවත් පොරවාගෙන එයා පැවිදි වෙනවා. පැවිදි වෙලා ඉතාමත් හොඳින් සිල්පද ආරක්ෂා කරනවා. අනුමාත්‍ර වරදේ පවා භය දකිනවා. ආචාරගෝචර සම්පන්නව වාසය කරනවා. පිරිසිදු ආජීවයෙන් යුක්ත වෙනවා. ඊළඟට අකුසලයෙන් වැළැක්වූ දොරටු ඇතිව වාසය කරනවා. ඉන්ද්‍රිය සංවරය ඇති කරගන්නවා. ඒවාගේම නුවණින් යුක්තව සළකලා ආහාර ගන්නවා. ඉතාමත් සිහිනුවණින් ඉන්නවා. ලද දෙයින් සතුටු වෙනවා. මේ විදියට හොඳට ගුණධර්ම පුරුදු කරනවා. මෙහෙම පුරුදු කරලා පුරුදු කරලා මෙයා ඔන්න විවේක සෙනසුන් ඇසුරු කරනවා. විවේක සෙනසුන් ඇසුරු කරද්දි බුදුරජාණන් වහන්සේ වදාළා එයාගේ හිත එයා විවේක සෙනසුන් වල බණ භාවනාවෙන් ඉඳගනිමින් සක්මන් කරමින් කරන භාවනාවෙන් විවේකයෙන් හොඳට නීවරණ පහෙන් හිත දුරු කරනවා. ඒ නීවරණ පහ තමයි කාමච්ඡන්දය, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්ච කුක්කුච්ඡ, විචිකිච්ඡා. එතකොට එයාට ඒ නීවරණ හිතෙන් දුරුවෙනකොට එයාට තේරෙනවා ලෝහිච්ච, තමන් මෙච්චර කාලයක් හිටියෙ ණයකාරයෙක් වගේ, තමන් මෙච්චර කාලයක් හිටියෙ දාසයෙක් වගේ. තමන් මෙච්චර කාලයක් හිටියේ ලෙඩෙක් වගේ. තමන් මෙච්චර කාලයක් හිටියේ කාන්තාරයේ මැද වගේ. පඤ්ච නීවරණ හිතින් නිදහස් වුනාට පස්සෙ දැනෙනවා ලෝහිච්ච තමන් ණයෙන් නිදහස් වුනා වගේ. ලෙඩකින් සනීප වුනා වගේ. දාස භාවයෙන් මිදුනා වගේ. කාන්තාරෙන් එතෙර වුනා වගේ දැනෙනවා. එහෙම නීවරණ තමා තුළින් සංසිඳිලා ගිහිල්ලා දකිනකොට පුදුම සන්තෝෂයක් සැපයක් හටගන්නවා. හිත හොඳට පාමොජ්ජයේ උපදිනවා. ප්‍රීතිය උපදිනවා. පස්සද්ධිය උපදිනවා. සිතේ සැහැල්ලු බව. කය සැහැල්ලු බව. ඒ තුළින් ගොඩාක් සැප ඇතිවෙනවා. සුඛිනෝචිත්තං සමාධියති, සැපවත් හිත සමාධිමත් වෙනවා. ලෝහිච්ච, ඔහු විතක්ක විචාර සහිත කාමයන්ගෙන් අකුසලයන්ගෙන් වෙන් වී ගිය විතක්ක විචාර සහිත ප්‍රීති සුඛ ඒකාග්ගතා සහිත පළවෙනි ධ්‍යානය උපද්දවාගෙන වාසය කරනවා. ලෝහිච්ච ඒ පළවෙනි ධ්‍යානය විවේකයෙන් හටගත්ත ප්‍රීති සුඛයෙන් කය තෙත් වෙච්ච නැති තැනක් නෑ. මුළු ශරීරයේම රෝම කූපයක් පවා තෙත් වෙලා තියෙන්නෙ සැපයෙන්. ඉතින් එහෙම

උදාහරණයක් ගත්තොත් ලෝහිච්ච අර නාන සුණු තියෙනවා, නාන කුඩු වර්ගයක් ඒ කාලෙ පාවිච්චි කරන. ඒ නාන කුඩු වර්ගයක්. නාන්න කිට්ටු වෙනකොට ඒකට වතුර ඉහලා ඉහලා ඒ ටික ගුලි කරලා අග්ගලා ගුලි වගේ හදාගන්නවා. ඒක ඇඟේ ගාලා තමයි නාන්නෙ. එතකොට ඒ නාන සුණු හදනකොට වතුර ඉහ ඉහ ගුලි කරනකොට ඒ කුඩු වල වතුර තෙත ගෑවිච්ච නැති තැනක් නෑ. ආන්න ඒ වගේ තමයි විවේකයෙන් හටගත්තු ප්‍රීති සුඛයෙන් මුළු කයම තෙත් වෙලා තියෙන්නෙ පළවෙනි ධ්‍යානයෙන්. ඉතින් ලෝහිච්ච ඔහු එය හේතු කරගෙන බොහෝ සැපයට සොම්නසට ප්‍රීතියට පත්වෙනවා. ඉතින් ලෝහිච්ච, ඔය විදියට ශ්‍රාවකයෙක් උදාර වූ විශේෂ ඥාණය සාක්ෂාත් කරනවා නම්, මොකද ධර්මය දේශනා කරලා තියෙන්නෙ සම්බුදුවරයෙක්. ශ්‍රාවකයා තමා තුළින්ම උපද්දවනවා ධ්‍යාන. එහෙනම් ඔය වාගේ ශාස්තෘවරයෙකුට කවුරුහරි චෝදනා කලොත් ලෝහිච්ච, ඒ චෝදනාව ඒ ශාස්තෘවරයාට අයිති නෑ. අසත්‍යයක්, අධාර්මිකයි, වැරදියි. පින්වත් ලෝහිච්ච, තවත් දුරට තවත් විස්තර කරලා කියනවා නම් එයා විතක්ක විචාර රහිත ප්‍රීති සුඛ ඒකාග්ගතා ඇති සමාධියෙන් හටගත්ත ප්‍රීති සුඛයක් ඇති දෙවෙනි ධ්‍යානයට සමවදිනවා. ඒ දෙවෙනි ධ්‍යානය ලෝහිච්ච, සමාධියෙන් හටගත්ත ප්‍රීති සුඛයෙන් තෙත් වෙලා තියෙන්නෙ. ඔහුගේ සමාධිය. ඒ සමාධියෙන් හටගත්ත ප්‍රීති සුඛය ඔහුගේ කයේ පැතිරිච්ච නැති තැනක් නෑ. උදාහරණයක් කිව්වොත් පොකුණක් තියෙනවා ලෝහිච්ච, ඒ පොකුණට පිටින් එන්න බෑ වතුර. ඇතුලෙ උල්පත් වලින්ම වතුර එන්නෙ. සීතල වෙවී සීතල වෙවී තියෙනවා. ඒ වගේ ඇතුලෙ අභ්‍යන්තර සමාධියෙන්ම ඔහුගේ හිත සමාධිමත් කර කර ප්‍රීතියෙන් සැපයෙන් තෙත් කර කර පවතිනවා. ඉතින්, ඈ ලෝහිච්ච, සම්මා සම්බුදුවරයෙක් දහම් දේශනා කරලා ශ්‍රාවකයා ඔය විදියට දෙවෙනි ධ්‍යානයත් ලබනවා නම් ඒ වාගේ ශාස්තෘවරුන්ට ගරහන්න සුදුසුද කියලා ඇහැව්වා. ඔය වගේ ශාස්තෘ වරුන්ට චෝදනා සුදුසු නෑ. ඒක අධාර්මිකයි, වැරදියි. ලෝහිච්ච තවත් දුරට මං මේක විස්තර කරනවා නම් කෙනක් තුන්වෙනි ධ්‍යානය උපද්දනවා. එතකොට ඒක ප්‍රීතියෙන් තොර වූ සැපයෙන් මේ තුන්වෙනි ධ්‍යානය සම්පූර්ණයෙන්ම ඔහුගේ කය තෙත් කරවනවා. උදාහරණයක් ගත්තොත් වතුරෙන් උඩට මතුවෙච්චි නැති මහනෙල් හෝ නෙළුම් හෝ පොහොට්ටුවක් වතුර ඇතුලේ තියෙනවා. ඒ පොහොට්ටුවේ වතුර ගෑවිච්ච නැති තැනක් නෑ. ආන්න ඒ වගේ තමයි තුන්වෙනි ධ්‍යානය. ප්‍රීතිය දුරුවීමෙන් හටගත්තු ඒ සැපයෙන් මුළු කයම තෙත් වෙලා තියෙන්නෙ. ඉතින් සම්මා සම්බුදුවරයෙක් දහම් දේශනා කරද්දි ශ්‍රාවකයෙක්

ඔය විදියේ ධ්‍යාන උපදවනවා නම් ඒ ශාස්තෘන් වහන්සේට මොකටද ගරහන්නෙ. අධාර්මිකයි, වැරදියි, ඒ වාගේ බුදු කෙනෙකු දහම් දේශනා කරන එකට දොස් කිව්වොත්. ඊළඟට තවත් ලෝහිච්ච මං මේක විස්තර කරලා කියනවා නම් ශ්‍රාවකයා සැපදුක් රහිත උපෙක්ඛාවෙන් පිරිසිදු උපෙක්ෂාව තියෙන හතරවෙනි ධ්‍යානයට සමවදිනවා කියනවා. ඉතින් හතරවෙනි ධ්‍යානයට සමවදිද්දි ඔහුගේ උපෙක්ෂාවෙන් තෙත් නොවුනු තැනක් නෑ. හරියට සුදු රෙද්දකින් කෙනෙක් වහලා තියෙනකොට මුළු ශරීරයේම සුදු රෙද්දෙන් වැහිලා තියෙනවා වගේ උපෙක්ෂාවෙන් කය වැහිල තියෙන්නෙ. කය පුරා පැතිරිලා තියෙන්නෙ උපෙක්ෂාව. ඉතින් ඒ වාගේ ශ්‍රාවකයෙක් හතරවෙනි ධ්‍යානයත් උපද්දවගන්නවා නම් ඒ ශාස්තෘන් වහන්සේට මොකටද දොස් කියන්නෙ. සුදුසු නෑ දොස් කියන්න. ඊටපස්සෙ කියනවා ලෝහිච්ච ඒ විතරක් නෙවෙයි මේ විදියට හිත දියුණු කරලා දියුණු කරලා ලෝහිච්ච, මෙයා දකිනවා තමන්ගේ කය දකිනවා මව්පියන්ගෙන් එක්වීමෙන් හටගත් ඉලීම් පිරිමැදීම් සහිත මේ සතර මහා ධාතු සහිත මේ ඇඟ දකිනවා. මේකෙම කිඳාබැසගත්තා වූ විඤ්ඤාණයත් පේනවා. හරියට අටපට්ටම් වුන, වෛරෝඩි මාණික්‍යයක් පලසක් මත තියලා තියනකොට සුදු හෝ රතු හෝ නිල් හෝ නූලක් අර වෛරෝඩි මාණික්‍යය ඇතුලෙන් යවලා තියෙනවා නම් මැණික වෙනම පේනවා, නූල වෙනම පේනවා. ඒ වගේ මේ කය වෙනම පේනවා, විඤ්ඤාණය වෙනම පේනවා. එතකොට ඔය විදියට කයයි ලේසියෙන් වෙන් කරලා දකින්න බැරි කයයි විඤ්ඤාණයයි එයා සමාධියෙන් දකිනවා නම් ඒ වගේ දේකට මගපෑදුව ශාස්තෘන් වහන්සේ නම් ධර්මයෙන් දේශනා කරලා ඉතින් ඒ ශාස්තෘන්වහන්සේට බණ කියන්න එපා කියලා ගරහන එක සුදුසු ද කියලා ඇහැව්වා. ඊටපස්සෙ ඔහු තවත් හිත දියුණු කරලා මොකද කරන්නෙ, ඔහු තමන්ගේ ජීවිතේ තව තවත් දියුණු කරලා මනෝමය කයක් මවනවා. මේ විදියම මේ ඇස් කන්, මේ රූපය, මේ අතපය මේ තියෙන විදියටම රූපයක් මේකෙන් ගන්නවා එළියට. ඍද්ධියෙන් කරන්නෙ. එතකොට මේ ඇඟ වෙනම එකක්, මනෝකය වෙනම එකක්. හරියට තණකොළ ගහකින් ගොබය ඇදලා ගත්තට පස්සෙ ගොබය වෙන එකක්, තණකොළ ගහ වෙන එකක්. කොපුවෙන් කඩුව ඇදලා ගත්තට පස්සෙ කොපුව වෙනම එකක්, කඩුව වෙනම එකක්. නයි පෙට්ටියෙන් නයෙක් එළියට ගත්තට පස්සෙ නයා වෙනම කෙනෙක්, නයි පෙට්ටිය වෙනම එකක්. ඒ වගේ කිව්වා. ඉතින් මනෝකය එළියට ඇදලා ගන්න පුලුවන් විදියට සමාධිය වඩනවා කිව්වා. ඉතින් ශ්‍රාවකයෙක් ඒක කරනවානෙ.

ඉතින් ලෝහිච්ච ඒ බණ කියපු ශාස්තෘන් වහන්සේට දොස් කියන්න ඕන ද කියලා ඇහුවා. වැරදියි කිව්වා එහෙම කිව්වොත් අධාර්මිකයි. ඊටපස්සෙ තවත් ලෝහිච්ච මේක විස්තර කරලා කියනවා නම් මෙයා මේ විදියට හිත දියුණු කරලා ඍද්ධි ප්‍රාතිහාර්ය පානවා. එක්කෙනෙක්ව ඉඳලා දාහක් විදියට ඉන්නවා. දාහක් විදියට ඉඳලා එක්කෙනෙක් විදියට ඉන්නවා. ඊටපස්සෙ පෙනෙන්න ඉන්නවා, නොපෙනෙන්න ඉන්නවා. බිත්ති ප්‍රාකාර, පර්වත විනිවිද යනවා. අහසේ යනවා කුරුල්ලෙක් වගේ. ජලයේ සක්මන් කරනවා, පොළොවේ කිඳා බහිනවා. මේ විදියට කුරුල්ලෙක් වගේ ආකාසේ යනවා. ඉරහඳ, මහානුභාවසම්පන්න ඉරහඳ පවා මෙහෙම අතින් අතගානවා. ශ්‍රාවකයා. බඹලොව දක්වා කයෙන් වසඟ කරනවා. එතකොට ඒ වගේ ඍද්ධි ප්‍රාතිහාර්ය ශ්‍රාවකයො පානවා නම් ඒ බණ කියපු ශාස්තෘන් වහන්සේ වැරදිද කියලා ඇහුවා. ඊටපස්සෙ ලෝහිච්ච තවත් ඒකට උදාහරණයක් කියනවා නම් උපමාවක්, ඒ ඍද්ධි ප්‍රාතිහාර්ය වලට, කුඹල් කරුවෙකුට හොඳ අමු මැටි ටිකක් හම්බුනා වගේ. ඕන විදියට හදනවා කිව්වා එක එක ඒවා. ඒ වගේ කිව්වා ඍද්ධි ප්‍රාතිහාර්ය ඕන විදියට පානවා. තවත් හිත දියුණු කරලා ලෝහිච්ච, ඔහු මොකද කරන්නෙ මේ හිත හොඳට මේවා වුනාට පස්සෙ ඈත තියෙන දිව්‍ය වූත් මනුස්ස වූත් ඈත හෝ ළඟ ඒවා අහනවා. දිව්‍ය ශ්‍රවණය පහළ කරගන්නවා. ඈත ගමකට මනුස්සයෙක් යනකොට ඇහෙනවා ඇතින් ගැටබෙරයක්, පනාබෙරයක්, දවුලක්, මිහිඟුබෙරයක්, දෙවොල් බෙරයක්. ඔහුට ඈත හඬ ඇහෙනකොටම තේරෙනවා ඔන්න තම්මැට්ටම් හඬ. ඔන්න ගැටබෙර හඬ. ඒ වගේ ඈත හෝ ළඟ හෝ දෙවියෙක් හෝ මිනිසෙක් හෝ කතා කරද්දි ඒ හඬ ඔහුට ඇහෙනවා. ඉතින් ඔය වාගේ දිව්‍ය ශ්‍රවණය උපදවා ගන්නවා නම් භාවනාවෙන් ශ්‍රාවකයෙක් ශාස්තෘන් වහන්සේගේ ධර්මය අහලා ඉතින් ඒ බණ කියපු ශාස්තෘන් වහන්සේට දොස් කියන්න ඕනද. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ඇහුවා ලෝහිච්ච මම තවත් විස්තර කරන්නම්, ඒ තමයි ලෝහිච්ච හිත ගොඩාක් තව තව පිරිසිදු වුනාට පස්සෙ අනිත් අයගේ හිත බලනවා. දැන් මෙයා රාග හිතක්ද හිතන්නෙ, ද්වේෂයක් ද, මෝහයක් ද, නිදිමත ද, මෙයාට දැන් හිත කොහොමද සමාධිමත් ද නැද්ද. උදාහරණයක් ගත්තොත් ලෝහිච්ච, කණ්ණාඩියක් ළඟට ගිහිල්ලා බලනකොට ඒ කණ්ණාඩියෙන් හොඳට පේන්නෙ, ආන්න ඒ වගේ අනිත් අයගේ හිත කණ්ණාඩියකින් වාගේ පේනවා. දැන් ඒ විදියට ශ්‍රාවකයා පරචිත්ත විජානන ඥාණය උපදවාගන්නවා නම් ඒ බණ කියන ශාස්තෘන් වහන්සේ වැරදිද. තවත් විස්තර කියනවා නම් ලෝහිච්ච, ඒ

ශාස්තෲන් වහන්සේ දහම් දේශනා කරද්දි ශ්‍රාවකයෝ පෙර ජීවිත බලනවා, ජීවිත එකක් දෙකක් තුනක්, ලක්ෂ කෝටි ගණන්, සංවට්ඨ විවට්ඨ කල්ප මෙහෙමයි කෑවෙ, මෙහෙමයි බීවෙ, මෙහෙමයි ගියෙ, මෙහෙමයි ආවෙ, මගේ නම මේකයි ගම මේකයි අම්මා මේකයි, තාත්තා මේකයි. ලෝහිච්ච උපමාවකින් කියනවා නම් ගමකින් ගමකට කෙනෙක් ආවට පස්සෙ එයා සිහි කරනවා මං කලින් හිටියේ අහවල් ගමේ, එහෙන් තමයි මෙහෙට්ට ආවෙ. මං එහෙදින් කෑවෙ මේවා, ඒවාගේ තේරෙනවා සිහිකරනවා හොඳට, ඒ වගේ පෙර ජීවිත සංවට්ඨ විවට්ඨ කල්ප දකින්න පුලුවන්. පුබ්බෙනිවාසානුස්මෘති ඥාණය. ඉතින් බුදු කෙනෙක්ගේ ධර්මය අහලා ශ්‍රාවකයෙක් ඒ වගේ ඥාණයක් උපද්දවා ගන්නවානම් ඉතින් ලෝහිච්ච ඒ ශාස්තෲන් වහන්සේට දොස් කියන්න ඕනද. ඊටපස්සෙ කිව්වා ලෝහිච්ච, මෙකරුණෙහි ලා තවත් විස්තර කරනවා නම් ශ්‍රාවකයන් චුතූපපාත ඥාණය උපද්දවාගන්නවා. ඒ කියන්නෙ කුසල් කලොත් සුගතියේ යන හැටි, පව් කලොත් අකුසල් කරලා දුගතියේ යන හැටි, කෙනෙක් මැරෙන හැටි, උපදින හැටි. උදාහරණයක් ගත්තොත් ගෙවල් දෙකක් මැද ප්‍රාසාදයක හොඳට පේන තැනක නැගලා ඉන්නවා ඇස් ඇති පුරුෂයෙක් නුවණ තියෙන. ඔහු දකිනවා මේ ගෙදරින් අර ගෙදරට යනවා. අර ගෙදරින් මේ ගෙදරට එනවා. ඔක්කොම පේනවා. ගේ ඇතුලෙ එහෙට්ට මෙහෙට්ට යනවා ඔක්කොම පේනවා. ඒ වගේ මේ මැරෙනවා පේනවා ගිහිල්ලා උපදිනවා පේනවා. චුතිය උපත පේනවා. සැප කරන අය කුසල් කරන අය සැප ඇති ලෝකවල උපදින හැටි, අකුසල් කරන අය පාපී දේවල් කරන අය දුක් ඇති ලෝකවල උපදින හැටි හොඳට පේනවා. චුතිය උපත පේනවා. චුතූපපාත ඥාණය. ඉතින් ශ්‍රාවකයෙක් ඔහොම ඥාණයක් උපද්දවනවා නම් ශාස්තෲන් වහන්සේගේ ධර්මය අහලා ඉතින් ඒ ශාස්තෲන් වහන්සේ චෝදනා ලබන්න සුදුසු ද. අධාර්මිකයි කවුරුහරි බැන්නොත්, වැරදි සහගතයි. ඊළඟට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ලෝහිච්ච ඔන්න ඒ ශාස්තෲන් වහන්සේගේ ශ්‍රාවකයා හොඳට හිත සමාධිමත් කරලා ඒ තුළින් දකිනවා තමන්ගේ හිතේ තියෙන ආශ්‍රව. කාමාශ්‍රව, භවාශ්‍රව, අවිජ්ජාශ්‍රව. උදාහරණයක් කිව්වොත් ලෝහිච්ච, කන්දක් මුදුනේ පොකුණක් තියෙනවා ගස් කොළං වල කොළ වැටෙන් නෑ, පිරිසිදු පොකුණක්. ඒකෙ සිප්පි තියෙන හැටි, ගල් කැට තියෙන හැටි, මාළු එහෙම යන හැටි ඇස් ඇති පුරුෂයෙකුට හොඳට පේනවා. ඒ වගේ කාමාශ්‍රව, භවාශ්‍රව, අවිජ්ජාශ්‍රව පේන්න ගන්නවා. ඔහු අවබෝධ කරනවා මේ දුක නම් වූ ආර්ය සත්‍යයයි. මේක දුක්ඛ සමුදය නම් වූ ආර්ය සත්‍යයයි. මේක

දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා නම් වූ ආර්ය සත්‍යයයි කියලා චතුරාර්ය සත්‍යය අවබෝධ කරගන්නවා. කාමාශ්‍රව නැතිවෙනවා, භවාශ්‍රව නැතිවෙනවා, අවිජ්ජාශ්‍රව නැතිවෙනවා. ආශ්‍රව ක්ෂය වෙනවා. ඉපදීමක් නෑ, නිවන් මග සම්පූර්ණයි. කළ යුතු දේ කලා කියලා ඒ උතුම් රහතුන් වහන්සේ දැනගන්නවා, දැකගන්නවා. මේ විදියට ආසවක්ඛය ඥාණයත් උපද්දවගන්නවා නම් ඉතින් ලෝහිච්ච ශ්‍රාවකයා, ඒ වගේ ශාස්තෘන් වහන්සේ නමකට දොස් කියන්න සුදුසු ද කියලා ඇහුවා. ඊටපස්සෙ ඒක සුදුසු නෑ ගැලපෙන් නෑ අධාර්මිකයි කිව්වා. මෙහෙම කියපු ගමන්ම ලෝහිච්ච බ්‍රාහ්මණයා කියනවා ස්වාමීනී නරාවළට වැටුනු පුරුෂයෙක්ගේ කෙස් වලින් අල්ලලා උඩට ගන්නවා වගේ භවත් ගෞතමයන් වහන්සේ මාව නරා වළෙන් උඩට ගත්තා. මගේ පාපී දෘෂ්ටිය නැතිවුනා. මාව ඔබවහන්සේ බේරගත්තා. අභික්ඛන්තං භන්තෙ, සුන්දරයි ස්වාමීනී. අභික්ඛන්තං භන්තෙ, සුන්දරයි ස්වාමීනී. ඊළඟට කියනවා නෙක්කුජ්ජිත්තංවා උක්කුජ්ජෙය්‍ය. යටට හැරවිලා තිබ්බ දෙයක් උඩ පැත්තට හැරෙව්වා වගේ. පටිච්චංනං වා විවරෙය්‍ය, වැහිලා තිබ්බ දෙයක් ඇරලා පෙන්නුවා වගේ. ඊළඟට මූළ්හස්සවා මග්ගං ආචික්ඛෙය්‍ය, පාර වැරදුනු කෙනෙකුට පාර පෙන්නුවා වගේ. ඊළඟට අන්ධකාරෙ වා තෙලපජ්ජොතං ධාරෙය්‍ය චක්ඛුමන්තු රූපානි දක්ඛින්තීති, අඳුරෙ ඉන්න කෙනෙකුට තෙල් පහනක් දැල්වුවා ඇස් ඇත්තො රූප දකිත්වා කියලා. නොයෙක් ආකාරයෙන් භාග්‍යවතුන් වහන්සේ මට දහම් දේශනා කලා. මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා. ශ්‍රී සද්ධර්මය සරණ යනවා. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා. දිවි තිබෙනතුරු තෙරුවන් සරණ ගිය ශ්‍රාවකයෙක් විදියට මාව ඔබවහන්සේ පිළිගන්නා සේක්වා කියලා සරණ ගියා. කොහොමද බමුණන්ගේ මත කණ්ඩනය වී භාග්‍යවතුන් වහන්සේගේ චරණ පායුග ළඟ වැඳ වැටෙන හැටි. ඒ භාග්‍යවතුන් වහන්සේගේ සිරිපා කමල ළඟ වැඳ වැටෙන හැටි බලන්න. භාග්‍යවතුන් වහන්සේ දහම් දේශනා කරපු හැටි බලන්න. අද කාලෙ අපි කිව්වොත් එහෙම බණ කියන්න එපා කියලා ඒකයි ඔහේලට ඉරිසියාද කියලා නිකං කතාවෙන් කතාව පැටලිලා යනවානෙ. නමුත් භාග්‍යවතුන් වහන්සේ උපමා සහිතව කරුණු සහිතව ලෝහිච්ච බමුණාගේ කටින්ම වචන අරගෙන ලස්සනට විස්තර කලා. බුදුරජාණන් වහන්සේ නම් ඒකාන්තයෙන්ම සුන්දරයි. බුදුරජාණන් වහන්සේගේ ධර්ම දේශනාව නම් ඒකාන්තයෙන්ම සුන්දරයි. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකත්වයට පත්වීම නම් ඒකාන්තයෙන්ම සුන්දර දෙයක්. ඒ නිසා හැමදාම හිතන්න දිවි තිබෙන තුරු නිවන් දකිනතුරු මම

බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා. නිතර නිතර හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ආර්ය මහා සංඝරත්නය මම සරණ යනවා කියලා, තෙරුවන් සරණම යන්න. තෙරුවන් සරණම යන්න. මේ ධර්ම දේශනා නිතර අහන්න. හරිම සුන්දරයි. දැන් අපි ඊළඟ දවසේ කියන්න කල්පනා කලා මේ බමුණන්ගේ බමුණු මත බ්‍රහ්ම ලෝකෙ යනවා කිය කියා ඒ අය හිතාගෙන ඉන්න ඒවා, කියන දේවල් හිස් දෙයක් විදියට බුදුරජාණන් වහන්සේ පෙන්න පෙන්නනවා. පුදුම සහගතයි, බුදුරජාණන් වහන්සේ නම්. බුදුරජාණන් වහන්සේගේ ඥාණ සම්පත්තිය පුදුම සහගතයි. ඊළඟට බුදුරජාණන් වහන්සේ අන් අය ශ්‍රාවකත්වයට පිහිටුවන හැටි ශාස්තෘ ශාසනය පිහිටුවන හැටි හරි පුදුම සහගතයි. ඒ නිසා අපිටත් අසිරිමත් සම්බුදු සරණේ සැනසී දුක් කෙළවර කරන්න වාසනාව ලැබේවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් පිරිසක්. ඔස්ට්‍රේලියාවේ වාසය කරන ඒ පින්වතුන් බලාපොරොත්තු වෙනවා පළමුවෙන්ම මේ සියලු පින් සියලු දෙව්වරුන්ට අනුමෝදන් වේවා. ඒ වගේම මියපරලොව ගිය සියලු ඥාතීන් මේ පින් අනුමෝදන් වී පරලොව සැපයට පත්වේවා. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් බලයෙන් නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සියලු ස්වාමීන් වහන්සේලාටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් සියලු දෙනාට මේ පින් බලයෙන් ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම ඒ ඔස්ට්‍රේලියාවේ පදිංචිව සිට අද ධර්ම දානයට සම්බන්ධ වෙන ඒ පින්වත් මහත්මියට සහ ඒ ස්වාමිපුරුෂයාට, පවුලේ දෙමව්පියන්ට, ඥාති හිතමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් වේවා. ඒ වගේම ඒ දෙදෙනාගේ රැකී රක්ෂාකටයුතු මේ පින් බලයෙන් දිනෙන් දින දියුණු පමුණු වේවා. යහපත් අදහස් ඉටුවේවා. කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරව සිටින ලක්වැසි ලෝවැසි සියලුදෙනාට නිරෝගී සුව සැලසේවා. ඒ පවුලේ සියලු දෙනාට දෙමාපියන්ට සියලු යහපත සැනසිල්ල සැලසේවා. ඔබ අපි කාටත්, ඒවගේම අපි හැදූ වැඩූ දෙමාපියන්ට ඥාතිහිතමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් වේවා. ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ ධර්මය ශ්‍රවණය කරන ඔබ සියලු දෙනාට, කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, ඔබ අප කාටත් ගෞතම බුද්ධ

ශාසනයේ උතුම් චතුරාර්ය සත්‍යය අවබෝධ කරගන්න අසිරිමත් සම්බුදු සරණින් සැනසී නිවනින් සැනසෙන්න මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=PUaCvAL1wfQ&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=81

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේත් අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් අපගේ භාග්‍යවතුන් වහන්සේගේ ජීවිතය ගැන අපූරු විදියට ශ්‍රවණය කරමින් සිත පහදවාගන්න අවස්ථාවක් ලැබෙනවා. ඇත්තටම පින්වතුනි මේ දවස් ටිකේ අපි කරන දේශනා නිතර අහන්න ලැබෙන දේශනා නෙවෙයි, මොකද, දීඝ නිකායේ සූත්‍ර දේශනා තමයි මං බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ ප්‍රකට කිරීමෙහි ලා දේශනා කරන්න මේ දවස් ටිකේ

යොදාගත්තෙ. දීඝ නිකායේ සූත්‍ර දේශනා දිග නිසා නිතර අහන්න ලැබෙන් නෑ, ඒ නිසා ඔබට ලැබෙන දුර්ලභ භාග්‍යයක් කියලා හිතන්න ඕන මේ අවස්ථාව. අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා අංක 126/ඩී4, විජයපුර, දියසෙන්පුර, මැදිරිගිරිය යන ලිපිනයේ පදිංචි පින්වත් පී.ජී. ඩිංගිරිමාතා මැණියන් විසින් අද දවසේ මේ ධර්ම දානය සිද්ධ කරන්නෙ. අසනීපයෙන් පසුවන එතුමියට නිදුක් නිරෝගී සුවපත් භාවයත්, දීර්ඝායුෂ සම්පත්තියත් මේ ධර්ම දේශනා පින් බලයෙන් ප්‍රාර්ථනා කරනවා. ඉතින් අද දවසේ ධර්ම දේශනා කරන පින් බලයෙන් එතුමියට නිදුක් නිරෝගී සුව සැලසේවා කියන මෙත් සිත මෛත්‍රිය අපි පතුරුවනවා සුවපත් වේවා කියලා. ඉතින් පින්වත්නි අපේ බුදුරජාණන් වහන්සේ ළඟ දමනය වුනා බ්‍රහ්මයො, දෙවියො, යක්ෂයො, නාගයො ඒ වගේම මිනිස්සු. ඒ මිනිසුන් අතර රජවරු, සිටුවරු, මැති ඇමැතිවරු, ඒ වගේම අංගුලිමාල ආදී සොරු දමනය වුනා. ඒ වගේම ඔබට මං මතක් කලා සමාජයේ ආධිපත්‍යය සමාජ බලය කැටි කරලා අල්ලගෙන හිටිය බමුණන්, බ්‍රාහ්මණයන් විසින්. ඔවුන් පවා බුදුරජාණන් වහන්සේ දමනය කලා. අවුරුදු එකසිය විස්සක් වයසැති බ්‍රහ්මායු නම් බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ සරණ ගියා, ධර්මය අවබෝධ කලා. සෝණදණ්ඩ බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ සරණ ගියා. ඒ වගේම පොට්ඨපාද බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ සරණ ගියා. ඒ වගේම අපි මීට කලින් කතා කලා පොක්කරසාතී බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ සරණ ගියා. දැන් පොක්කරසාතී කියලා කියන්නෙ පොක්කරසාතී බ්‍රාහ්මණයා නෙළුම් මලක් අස්සෙ ඉපදුනේ. නෙළුම් මලක ඉපදුනේ හිමාලයේ. හිමාලයේ පොකුණක හැදිච්ච විශාල නෙළුමක් තිබ්බා. ඒ නෙළුම ඊට තදාසන්න විහාරයක කුටියක වාසය කරපු තාපසයෙක් මේ විශාල නෙළුම මොකක්ද කියලා ඒ නෙළුම නෙළාගෙන ඇවිල්ලා ඒ නෙළුම විවෘත කරලා බලනකොට ඇතුලෙ පුංචි දරු සිඟිත්තෙක් හිටියා රත්තරන් පාට. ඒ නිසා තමයි ඒ දරුවා ඒ තාපසයා ළඟ වේද වේදාන්තර ඉගෙන ගෙන පොක්කරසාතී කියලා. ඉතින් මිනිස්සු අතරට එතුමා ඇවිල්ලා එතුමා බොහෝ රජවරුන්ගෙන් පිදුම් ලැබුවා. කොසොල් මහා රජ්ජුරුවන්ගෙන් ගම්වර ලැබුවා. ඔහු පවා බුදුරජාණන් වහන්සේ සරණ ගියා. ඉතින් අද අපි කතා කරනවා තවත් බ්‍රාහ්මණයෙක් ගැන. මේ බ්‍රාහ්මණයා කූටදන්ත බ්‍රාහ්මණයා. මේ අපූරු සිද්ධියක්. භාග්‍යවතුන් වහන්සේ ඒ කාලයේ වැඩ හිටියේ මගධයේ චාරිකාවේ වඩිමින් ඛාණුමත නම් බ්‍රාහ්මණ ගමට වැඩලා. ඒ ඛාණුමත බ්‍රාහ්මණ ගමේ අම්බලට්ඨික උයනේ තමයි භාග්‍යවතුන් වහන්සේ එදා වැඩ හිටියේ. ඒ දිනවල කූටදන්ත බ්‍රාහ්මණයා

කාණුමුත බ්‍රාහ්මණ ගමේම බිම්බිසාර රජ්ජුරුවන්ගෙන් ලැබුනු තෑග්ගක් විදියට ගම්වරයක් ලබලා ඒ ගමෙන් ලැබෙන සියලු අයබදු සහිතව ඉතාමත් සුවසේ සැපසේ විශාල ශිෂ්‍ය පිරිසකට අනුග්‍රහ කරමින් ප්‍රභූවරයෙක් විදියට, සිටුවරයෙක් විදියට වාසය කරනවා කූටදන්ත බ්‍රාහ්මණයා. ඉතින් කූටදන්ත බ්‍රාහ්මණයාට මහා යාගයක් කරන්න ඕන වුනා. එතකොට කූටදන්ත බ්‍රාහ්මණයා මොකද කලේ ලොකු ගවයො හත්සීයක් ගෙනාවා. ගොන් නාම්බො හත්සීයක් ගෙනාවා. නාම්බො වැස්සියො හත්සීයක් ගෙනාවා. එළුවො හත්සීයක් ගෙනාවා. තරුණ බැටළුවො හත්සීයක් ගෙනාවා. ඒ ගෙනල්ලා යාග කරන්න කණුවල ගැටගහලා තිබ්බා. එතකොට දැන් මෙතනම ලොකු ගවයො හත්සීයයි, ගොන් නාම්බො හත්සීයයි, නාඹු වැස්සියෙ හත්සීයයි, එළුවො හත්සීයයි, තරුණ බැටළුවො හත්සීයයි මේ විදියට එතකොට දහස් ගාණක් සත්තු. දහස් ගාණක සත්තු, තුන්දහස් පන්සීයකට අධික සත්තු ප්‍රමාණයක් මරන්න කණුවල ගැටගහලා හිටින්නෙ. ඉතින් මේ විදියට දැන් යාග  දවස එනකල් ඔහොම ඉද්දි තමයි භාග්‍යවතුන් වහන්සේ ඒ ගමට වැඩියේ. බුදුරජාණන් වහන්සේ ගමට වැඩියට පස්සෙ ගම්මුන්ට අහන්න ලැබුනා බ්‍රාහ්මණ ගමේ මිනිස්සුන්ට, ශාක්‍ය කුලයෙන් පැවිදි වෙලා වාසය කරන ශාක්‍ය පුත්‍ර වූ භාග්‍යවත් ගෞතමයන් වහන්සේ අපේ ගමට වැඩම කරලා. උන්වහන්සේ ගැන කීර්තිඝෝෂාවක් පැතිරෙනවා, උන්වහන්සේ අරහං, සම්මා සම්බුද්ධයි, විජ්ජාචරණ සම්පන්නයි, සුගතයි, ලෝකවිදූ, අනුත්තර පුරිසදම්ම සාරථීයි, සත්තා දේවමනුස්සානං, බුද්ධ, භගවා කියලා. උන්වහන්සේ ගැන කීර්ති ඝෝෂාව පැතිරෙනවා. ඉතින් උන්වහන්සේ මුල, මැද, අග පිරිසිදු විමුක්ති මාර්ග ධර්ම දේශනාවක් පවත්වනවාලු ඉතින් එය නිවන පිණිසම පවත්වනවාලු, ඉතින් භවත්නි ඒ වාගේ රහතන් වහන්සේ නමක් නේත්‍රා දෙකට දැක්කත් මොකද. යමල්ලා කියලා ඔන්න ගම්වල මිනිස්සු පෝලිම්හැදිලා යනවා බුදුරජාණන් වහන්සේ වැඩහිටපු වනයට. ඊටපස්සෙ කණ්ඩායම් කණ්ඩායම් වශයෙන් ඒ වනය පැත්තට යනකොට අම්බලට්ඨිකා වනය පැත්තට කූටදන්ත බ්‍රාහ්මණයා තමන්ගේ මාළිගාවේ ප්‍රාසාදයේ, උඩුමහන්තලයේ ඉද්දින් දැක්කා අර මිනිස්සු කණ්ඩායම් කණ්ඩායම් විදියට උතුරු සළුත් දාගෙන ලහි ලහියේ එකිනෙකාට කුටු කුටු ගාමින් කතා කරලා, ඇයි මිනිස්සු දන්නැනෙ. හිතන්නකො ඔයාලගෙ ගමට, ඔයාලගේ ගමේ පන්සලට හරි වෙහෙරට හරි ආරංචි වෙනවා රහතන් වහන්සේ නමක් වැඩලා කියලා. උන්වහන්සේ ඍද්ධි ප්‍රාතිහාර්ය පානවාය කියලා, යමල්ලා යමල්ලා කියලා ගමේ මිනිස්සු කිව්වම ඒ

ගෙදරින් මේ ගෙදරින් කට්ටිය එකඑක්කෙනා හිටපල්ලා කියලා දොරවල් දඩබඩ ගාලා වහලා රංචු පිටින් කතා කර කර අර වටේපිටේ ඉන්න අයටත් කතා කරගෙන හාහෝ ගාලා යනවානෙ පන්සලට. ඉතින් කවුද දන්නෑ, උසයි ද මහතයි ද, දිගයි ද පළලයි ද, රැස් විහිදෙනවාද, කොහෙන්ද වැඩියෙ මොකවත් දන්නෑනෙ. ඉතින් ඔක්කොම යනවා, ඔය ඔක්කොම වංහුං හොයාගන්නත් එක්ක යනවා. ඒ වගේ තමයි ඉස්සරත්. ඉතින් ආරංචිය ආපු ගමන් ඔක්කොම ගියා. එතකොට කූටදන්ත බ්‍රාහ්මණයා දැක්කා, දැකලා උඩුමහන්තලයේ ඉඳලා තමන්ගේ උපදේශකයෙක් හිටියා, තමන්ට උපදෙස් දෙන තරුණයෙක්, ඔහුගේ නම කත්ත. කත්තට කතා කරලා කිව්වා, කත්ත මෙහෙ වරෙන්. අර මිනිස්සු රංචු ගැහි ගැහි යනවා, වෙනදා ඔහොම වෙන් නෑ. උඹ ඩිංගක් ගිහිල්ලා බලාපං. බලලා මොකද මේ තත්ත්වය, කොහෙද මේ යන්නෙ කින්ද මන්ද කියලා හොයාගෙන වරෙන්. මොකක්ද ඔය කතාව කියලා. ඊටපස්සෙ කත්තත් එහෙමයි කියලා දුවගෙන ගිහිල්ලා මිනිස්සුන්ගෙන් ඇහුවා, මිනිස්සුත් අර විස්තරේ ඔක්කොම කිව්වා මෙහෙමයි කතා කර කර ඉන්න වෙලාවක් නෑ ශාක්‍ය කුලයෙන් නික්මිලා පැවිදි වුන ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අම්බලට්ඨිකාවේ වනයේ වැඩ ඉන්නෙ. ඔහේලා දන්නවදා උන්වහන්සේ රහතන් වහන්සේ නමක්ලු, සම්මා සම්බුදුවරයෙක්ලු කියලා බුදුගුණ කියලා ධර්මය දේශනා කරනවා. ඉතින් උන්වහන්සේ විමුක්ති මාර්ගය දේශනා කරනවා, බණ ඇහිල්ල කෙසේ වෙතත් ඒ වාගේ රහතන් වහන්සේ නමක් නේත්‍රා දෙකට දැකගන්න ඕන කියලා මේ අපි යන්නෙ, කියලා දැන් මිනිස්සු කිව්වෙ. ඉතින් අර කත්තත් ඇවිල්ලා කූටදන්ත බ්‍රාහ්මණයාට සම්පූර්ණ විස්තරය කිව්වා, මෙන්න මේකයි කාරණාව කියලා. එතකොට කූටදන්ත බ්‍රාහ්මණයාට අදහසක් ඇතිවුනා, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ හැමදෙයක්ම දන්න කෙනෙක්, දකින කෙනෙක්. මම විශාල යාගයක් තියන්න දැන් බලාපොරොත්තුවෙන් ඉන්නෙ. එතකොට අපේ වේද පොත් වල තියෙනවා යාග සම්පත්, ත්‍රිවිධ යාග සම්පත් සහ සොළොස් යාග පිරිකර සහිතව මහා යාගයක් කළොත් ස්වර්ගගාමී වෙනවා කියලා. ඉතින් නමුත් එහෙම තිබ්බට ඕක විස්තර වශයෙන් මොනවද ඔය ත්‍රිවිධ යාග සම්පත්, සොළොස් පිරිකර මොනවද කියලා මම දන්නෑ. මම ගිහිල්ලා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේගෙන් ඕක ඇහුවොත් උන්වහන්සේ ඕක විස්තර කරලා දෙනවා, මගේ යාගය බොහෝ සිත් සේ මට කරගන්න පුලුවන් උපරිම ආකාරයෙන් මහත්ඵල මහානිසංස ලැබෙන විදියට කියලා කූටදන්ත බ්‍රාහ්මණයා හිතුවා. හිතලා මමත් යන එකයි

හොඳ කියලා කත්තට කිව්වා, කත්ත ඔය මිනිස්සුන්ට ගිහිල්ලා කියන්න, මම එනවා පොඩ්ඩක් හිටපල්ලා. කූටදන්ත බ්‍රාහ්මණයත් උඹලත් එක්ක භාග්‍යවතුන් වහන්සේ, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ බැහැදකින්න එනවා කියලා කියාපං කියලා කිව්වා. ඉතින් කත්ත එහෙට දුවනවා මෙහෙට දුවනවා පණිවිඩ පනත් ගෙනයනවා. ඊටපස්සෙ මිනිස්සු ටිකක් නැවතුනා. කූටදන්ත බ්‍රාහ්මණයත් ලහිලහියේ ලැහැස්ති වෙලා යන්න හැදුවා. යන්න හදනකොටම දැන් කූටදන්ත බ්‍රාහ්මණයත් එනවා පොඩ්ඩක් නැවතියල්ලා කියලා කත්ත පණිවිඩේ කිව්වනෙ. එතකොටම ඒ පැත්තෙන් බමුණු පිරිසක් එනවා. මේ බමුණො ටික ආවෙ කූටදන්ත බ්‍රාහ්මණයා යාගයක් කරන්න හදනවාය, ඒ යාගයේ අග්‍රභෝජන අපි ලබන්න ඕන කියලා. ඒ කියන්නෙ සත්තු මරලා පුළුස්සලා කාලා මොකක්දෝ කරන යාගයක් ඒක. ලේ වලින් කරන යාගයක්. ඊටපස්සෙ යාග කරලා භවබෝග සැප සම්පත් වස්තු රන් රිදී මුතුමැණික් පොට්ටනි බැඳ බැඳ දෙනවා එන බමුණන්ට. ඉතින් මේකට ආවා බමුණො ටිකක්. බමුණන්ට අහන්න ලැබුනා අර මිනිස්සුන්ට කියන කතාව. උඹලා පොඩ්ඩක් හිටපල්ලා, කූටදන්ත බ්‍රාහ්මණයත් උඹලත් එක්ක අම්බලට්ඨිකාවට ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ බැහැදකින්න එනවා කියලා. එතකොට අර බමුණො කතා වුනා, දැන් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ළඟට මේ කූටදන්ත බ්‍රාහ්මණයා ගිය ගමන් සම්පූර්ණයෙන්ම යාගය අවුල් වෙනවා. ඒ නිසා මේක මොකක්හරි කරලා වෙනස් කරනවා ශ්‍රමණ භවත් ගෞතමයො, ඊට කලින් කූටදන්ත බ්‍රාහ්මණයා යන එක වළක්වන්න ඕන. එතකොට අද කාලෙ වුනත් තියෙනවානෙ ඕවා. දැන් අද කාලෙ අම්මලාට හිතෙනවා මේ දරුවො බණ ඇහුවොත් මුන් මහණ වෙයි කියලා කොහොමහරි බණ ටිකක් අහන එක වළක්වනවා. උන්ගේ අතට මොකක් හරි ෆෝන් එකක් ගෙනත් දෙනවා. ඊටපස්සෙ අහවල් පන්තියට පලයන්, අරකට පලයන්, මේකට පලයන්, අර වැඩේට පලයන්, මේ වැඩේට පලයන් කියලා හැම පැත්තකම හිර කරවනවා බණ ටිකක් අහන්න දෙන් නෑ, අවසානෙ ඒ ළමයි යාන්ත්‍රික වෙලා කෙලෙස් වලින් පීඩා විඳලා බැට කාලා අවසානෙ නිකං අමනුස්ස පිරිසක් වගේ වෙනවා. අම්මලාම කරපු දේ. ඊටපස්සෙ කූටදන්ත බ්‍රාහ්මණයා ගාවට ගිහිල්ලා අර බමුණො කියනවා යන්න එපා, දැන් අපිට ඇහුනා මෙහෙම කතාවක් කියනවා. යන්න එපා. මොකද, ඔබ ගියොත් එහෙම, බ්‍රාහ්මණය ඔබ ගියොත් එහෙම ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ළඟට, ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ කීර්තිය පැතිරෙනවා, ඔහේගේ කීර්තිය අඩුවෙලා යනවා.

ටිකක් කල්පනා කරන්න එපායෑ වචනයක් කියන්න කලින්. යන්න එපා. ඊටපස්සෙ කිව්වා එහෙම නෙවෙයි, ඔය ශ්‍රමණ භවත් ගෞතමයො ඕන්න කූටදන්ත බ්‍රාහ්මණයාගේ නිවසට වඩිනවා නම් කිසි ප්‍රශ්නයක් නෑ, ඒවට අපි විරුද්ධත්වයක් නෑ. ඊටපස්සෙ කිව්වා කූටදන්ත බ්‍රාහ්මණය, ඔබ මව් පාර්ශ්වයෙන් පිය පාර්ශ්වයෙන් සත්මුතු පරම්පරාවක් දක්වා, මීමුතු පරම්පරාවක් දක්වා පිරිසිදුයි. කුලපරම්පරාවෙන් උපවාද අපවාද ලබලා නෑ. වංශෙ හොඳයි. මහා වංශයක් තියෙන, හොඳ වංශයක් තියෙන ඔබතුමා වගේ කෙනෙක් යන්න සුදුසු නෑ ශ්‍රමණයො බලන්න. ඕන්න ශ්‍රමණ භවත් ගෞතමයො මෙහෙට්ට එනවා නම් කිසි ප්‍රශ්ණයක් නෑ. ඒ විතරක් නෙවෙයි, බලන්න ඔබතුමාට තියෙන සැප සම්පත්. ඔබ යන්නෙපා ඒ වගේ කෙනෙක් ගාවට ඔය කැල්ේකට. ඒ වගේම ඔබ වේද හදාරපු මහා බ්‍රාහ්මණයෙක්. ඉතින් යන්න එපා. ඊළඟට ඔබ ලස්සන කෙනෙක්, රූපවත් කෙනෙක්. එතකොට කූටදන්ත බ්‍රාහ්මණයා රූපවත් කෙනෙක්. මිනිස්සු එතුමා පාරට බැස්සට පස්සෙ මිනිස්සු ඇවිල්ලා බලාගෙන ඉන්නවා කියනවා එතුමාගේ ලස්සන. පාරෙ යනකොට මිනිස්සු ජනෙල් වලින්, දොරවල් වලින් එබිකම් කරගෙන ඇස් දල්වාගෙන, ඇහිපිය ගහන්නැතිව බලාගෙන ඉන්නවා කියනවා කූටදන්ත බ්‍රාහ්මණයා යනකොට එච්චර ලස්සනයි රූපය කූටදන්ත බ්‍රාහ්මණයාගේ. ඔබ සිල්වත් කෙනෙක්. ඊළඟට ඔබ මිහිරි වචන ඇති කෙනෙක්. මං මේවා කෙටියෙන් විස්තර කරගෙන යන්නෙ. මේවා විස්තර සහිතව සෝණදණ්ඩ සූත්‍රය දේශනා කරනකොට, සෝණදණ්ඩ බමුණාගේ බුදුගුණ වැයුම ගැන අපි මීට කලින් කලා දහම් වැඩසටහනක්. ඒ නිසා ඒකෙ මේවා විස්තර වශයෙන් අපි කියලා දුන්නා. එතකොට අද අපේ දහම් කාරණාවට යන්න ඕන නිසා කෙටියෙන් මේ කරුණු කාරණා සිහි කරන්නෙ. ඊළඟට කියනවා කූටදන්ත බ්‍රාහ්මණය ඔබ වනාහි ආචාර්‍ය්‍ය ප්‍රාචාර්‍ය්‍ය වූ කෙනෙක්. ඔබ ළඟ මානවකයො තුන්සීයක් වේදය ඉගෙන ගන්නවා. ඔබ මිහිරි වචන කියන කෙනෙක්. ශිෂ්ට සම්පන්න වූ කෙනෙක්. ඔබ වයෝවෘද්ධ කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයො තරුණයිනෙ. ඉතින් ඔය පොඩි අය ළඟට යන්න එපා. වයෝවෘද්ධ ප්‍රභූ අය ළඟට ශ්‍රමණයො එන්න ඕන. ඊටපස්සෙ කියනවා පොක්කරසාතී බ්‍රාහ්මණතුමා පවා ඔබතුමාට සත්කාර කරලා තියෙනවානෙ. බිම්බිසාර රජ්ජුරුවො, කොසොල් රජ්ජුරුවො ඔබතුමාට සත්කාර කරලා තියෙනවානෙ. ඒ නිසා ඔබතුමා වගේ කෙනෙක් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ළඟට යන්න සුදුසු නෑ. ඕන්න උන්වහන්සේ එනවා නම් මෙහෙට්ට කිසි ප්‍රශ්නයක් නෑ කිව්වා. ඊටපස්සෙ

කූටදන්ත බ්‍රාහ්මණයා කියනවා ඔහේලා කියපු කාරණාව හැබෑව. නමුත් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ගැන මම දන්න කාරණා ටික ඔහේලාට කියන්නද, පොඩ්ඩක් අහගෙන ඉන්නවලකො කියලා කිව්වා. ඊටපස්සෙ කියනවා, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මව් පාර්ශ්වයෙන්, පිය පාර්ශ්වයෙන් සත්මුතු පරම්පරාවක් මීමුතු පරම්පරාවක් සුජාතයි. අපවාද උපවාද වංශ පරම්පරාවෙන් ලබලා නැති පිරිසිදු උපතක් තියෙන, කුල පරම්පරාවක් තියෙන, රාජ පරම්පරාවේ ඉපදිච්ච කුමාරයෙක්. ඒ වාගේ කෙනෙක් පැවිදි වුනාට පස්සෙ උන්වහන්සේ බැහැදකින්න යන්න සුදුසුයි අපි. උන්වහන්සේ සුදුසු නෑ අපේ ගෙදරට එන එක. ඊටපස්සෙ කිව්වා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මහත් ඥාති පිරිසක් අතහැර දමලා පැවිදි වුන කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ පොළොවේත්, අහසේත් තියෙන රන් රිදී මුතු මැණික් වස්තුව අතහැරලා සක්විති රජකෙනෙක් වෙන්න ඉද්දින් පැවිදි වූ කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ යෞවන කාලෙ තරුණ කෙහෙ තියෙද්දින් පැවිදි වුන කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ රාජකීය දෙමව්පියන් හඬ හඬා ඉද්දින් කඳුළු වැටුනු මුහුණු තියෙද්දින් පැවිදි වෙච්චි කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් හෙබි මනා රූ සපුවක් තියෙන කෙනෙක්. උන්වහන්සේගේ රූපය ලේසියෙන් දකින්න බෑ කෙනෙකුට. මිනිස්සු ඇස් කන් අයාගෙන උන්වහන්සේගේ දේහය දෙස බලා සිටින්නෙ. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ආර්ය වූ සිල් ඇති කෙනෙක්, කුසල් ඇති කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මිහිරි වචන ඇති කෙනෙක්. මිහිරි කරුණු විග්‍රහ කරන කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ බොහෝ ජනයාට ආචාර්‍ය්‍ය වූ කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ කාමරාගය ප්‍රහාණය කළ කෙනෙක්. චපල නැති කෙනෙක්. දැන් බලන්න බුදුරජාණන් වහන්සේ ඒ ගමට වැඩිය පළවෙනි වතාව. ඒ ගමේ බමුණන් තුළ උන්වහන්සේගේ කීර්තිඝෝෂාව කොච්චර පැතිරිලා ගියාද. හිරු මඬල අහසට නැගෙන්න කලින් අරුණෝදය පැතිරී යනවා වගේ, බුදුරජාණන් වහන්සේගේ ගුණ කඳ සුළඟක් සේ ප්‍රදේශයක පැතිරිලා යනවා. මේ වගේ බුදුගුණ කියන්න පුලුවන් එක්කෙනෙක් අද ඉන්නවාද. බුදුරජාණන් වහන්සේ ගැන, මේ බමුණො තෙරුවන් සරණ ගිහිල්ලා නෑ. මේ බමුණො බුදුගුණ කියන හැටි. ඊටපස්සෙ කියනවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ කර්මවාදී ක්‍රියාවාදී කෙනෙක්, උන්වහන්සේ ශ්‍රේෂ්ට දේ උතුම් කොට සලකන, අවශේෂ ප්‍රජාවට නායකත්වය සළසන කෙනෙක්. ශ්‍රමණ

භවත් ගෞතමයන් වහන්සේ සම්භේද නොවූ, ඒ කියන්නෙ බිඳුන් නැති රාජ වංශයේ උසස් රාජ කුලයෙන් පැවිදි වෙච්ච කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මහා ධනය, මහා භෝග ඇති කුලයකින් පැවිදි වූ කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේගෙන් ප්‍රශ්න විසඳාගන්න ඕන කියලා පිටරටවල් වලින්, පිට ජනපදවලින් පවා මිනිස්සු පැමිණෙනවා. දහස් ගණන් නානාවිධ දෙවියන්, මිනිසුන් උන්වහන්සේ සරණ ගියා. උන්වහන්සේ ගැන අරහං, සම්මා සම්බුද්ධ, විජ්ජාචරණ ආදී නවඅරහාදී සම්බුදු ගුණයන් පැතිරෙනවා. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මහා පුරුෂ ලක්ෂණ තිස් දෙකකින් යුක්තයි. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ කෙනෙක් ළඟට ආවට පස්සෙ කොහොමද, කින්ද මන්ද ඔබගේ පැමිණීම හොඳයි කියලා සුහද කතාබහ තියෙනවා. දැන් සුහද කතාබහ කියලා කියන එක හරීයට වටිනවා. ඒකනෙ මේ ගුණ විදියට තියෙන්නෙ. මට මතකයි මං එක ආරණ්‍යයකට ගියාට පස්සෙ එක හාමුදුරු නමක්, ඒ ස්වාමීන් වහන්සේ ඉතාමත් සාදරයෙන් මාව පිළිගත්තා. පිළිගෙන හිනාවෙලා උන්වහන්සේ ඊටපස්සෙ මාත් එක්ක කිව්වා ස්වාමීන් වහන්ස, මෙන්න මෙහෙම කාරණාවක් තියෙනවා කියලා. මං ඇහුවා මොකක්ද කියලා. කෙනෙක් ඉස්සෙල්ලාම ආවට පස්සෙ ඉතාමත් සාදරයෙන් පිළිගන්න ඕන කිව්වා. ඒ සාදරයෙන් පිළිගන්න එකත් එක්ක තමයි කිව්වා එතන එයා සතුටින් වාසය කිරීම තියෙන්නෙ. එතනින් පස්සෙ එයාට කුටියෙ මොනවහරි අඩුපාඩු තිබ්බත් ඒවා හිතට යන්නෑ කිව්වා. අර සාදරයෙන් පිළිගන්න එක නිසාම අරවා ඔක්කොම වැහෙනවා කිව්වා. නමුත් කෙනෙක් ආරණ්‍යයකට ආවට පස්සෙ එයාව සාදරයෙන් පිළිගත්තෙ නැත්නම් එහෙම කුටියේ මොන සුදුසුකම් පහසුකම් හදලා තිබ්බත් එයාට දාන මාන මොන පහසුව හදලා තිබ්බත් අර එනකොටම එයාගේ හිතේ ඇතිවන කණස්සල්ලෙන් අරවා ඔක්කොම වැහෙනවා කිව්වා. ඒ නිසා ස්වාමීනී කෙනෙක් ඉස්සෙල්ලාම ආවට පස්සෙ සුහදව පිළිගන්න එක හරී උපකාරයි කියලා උන්වහන්සේ ඒ කාරණාව මට කිව්වා. මට එදා හිතුනා මේ කාරණාව ඇත්ත. දැන් මේ බුද්ධ වචනෙත් තියෙන්නෙ. මේ බ්‍රාහ්මණයො බුදුගුණ කියනකොට කියන්නෙ. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ කෙනෙක් ගියාට පස්සෙ සාදරයෙන් සිනහවෙන් සාදරයෙන් කතා කරනවා. සුහදව කතා කරනවා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ ගැන කියනවා, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ භික්ෂු භික්ෂුණී උපාසක, උපාසිකා කියන සිව්වනක් පිරිසෙන් ගෞරව සම්මාන ලබන කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ දෙව් මිනිස්සුන්ගේ

අතිශයින් පැහැදීමට ලක්වූ කෙනෙක්. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ යම් ගමක වේවා, නියම් ගමක වේවා වැඩ සිටිනවා නම් ඒ ගමේවත් නියම් ගමේවත් අමනුෂ්‍යයන් මිනිස්සු හට පීඩා කරන්නේ නැත. ඔන්න බලන්න ඒ කාලෙ වෙලා තියෙන දේවල්. එතකොට ඒ කාලෙ මිනිස්සුන්ට ධර්මය අහනකොට අමනුස්ස ප්‍රශ්න, ඒවා අද කාලෙනෙ ඒවා තියෙන්නෙ. ඒ කාලෙ බුදුරජාණන් වහන්සේ ඒ ප්‍රදේශයට වඩිනකොටම අමනුස්ස ප්‍රශ්නෙ සන්සිදිලා. ඊටපස්සෙ තියෙනවා, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ බොහෝ පිරිස් සහිතයි. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේගේ කීර්තිය හැම පැත්තෙම පැතිරිලා තියෙන්නෙ. ඊළඟට අනිත් අය තාපසයන්ගේ කීර්තිය පැතිරිලා තියෙන්නෙ ඒ අය රකින තපස් ක්‍රමත් එක්ක. ඒ අය එක වේලෙන් ඉන්නවාය, එක කකුලෙන් ඉන්නවාය, සීතලේ ඉන්නවාය, ඊළඟට වතුරේ කිඳාබහිනවාය කියලා ඒ මිනිස්සු කරන, ඒ තාපසයො කරන තපස් ක්‍රමත් එක්ක තමයි ඒ තාපසයන්ගේ කීර්තිය පැතිරිලා තියෙන්නෙ. ඒත් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේගේ කීර්තිය පැතිරිලා තියෙන්නෙ උන්වහන්සේ අවබෝධ කරපු ධර්මයත් එක්ක. හරී ලස්සන කාරණාවක්. බුදුරජාණන් වහන්සේගේ කීර්තිය පැතිරුණේ තපස මුල් කරගෙන නෙවෙයි. උන්වහන්සේ අවබෝධ කරපු ධර්මයත් එක්ක. උන්වහන්සේ බිම්බිසාර මහරජ්ජුරුවො, කෝසල මහාරජ්ජුරුවො, පොක්කරසාතී ආදී බ්‍රාහ්මණයො ඒ ඔක්කොම බුදුරජාණන් වහන්සේ සරණ ගිය අය පවුල් පිටින්. බිම්බිසාර රජ්ජුරුවො, කෝසල රජ්ජුරුවො පොක්කරසාතී ආදී අය ඒ අය නිතර ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේට සත්කාර සම්මාන කරනවානෙ. අනිත් එක උන්වහන්සේ මේ ගමට අලුතින් වැඩපු ආගන්තුක කෙනෙක්නෙ. ආගන්තුක කෙනෙක් ආවට පස්සෙ අපේ ගෙදරට එනකල් බලා ඉන්නවා කියලා එකක් නෑ, අපි උන්වහන්සේ සෙයාගෙන යන්න ඕන, කවුද මේ උත්තමයා කියලා. ඉතින් ඔය බ්‍රාහ්මණවරුනි, ඔය මං කිව්වෙ මට තේරෙන බුදුගුණ ටිකක්. ඒ නිසා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අනේක විධ ගුණයන්ගෙන් යුක්තයි කියලයි මම අහලා තියෙන්නේ කියලා කූටදන්ත බ්‍රාහ්මණයා කිව්වා. කූටදන්ත බ්‍රාහ්මණයා නවත්වන්න අනිත් බමුණො, කූටදන්ත බ්‍රාහ්මණයාගේ ගුණ එකොළහයි කියන්නෙ. කූටදන්ත බ්‍රාහ්මණයා තමන් බුදුරජාණන් වහන්සේ ළඟට යන්න සුදුසුයි කියලා ගුණ විසිනවයක් කියනවා. එතකොට කොහොමද කියලා හිතන්න බලන්න. මේක කිව්ව ගමන් බමුණො කියනවා අනේ උන්වහන්සේ මෙහෙට එනකල් නම් ඉන්න එපා. යොදුන් සීයක් දුර වුනත් ඔය වාගේ උත්තමයෙක් නම් බලන්න යන්න

සුදුසුයි කියලා, යමු අපිත් එනවා කියලා ඒ මිනිස්සුත් එකතු වුනා ඒ ගමනට. ඊටපස්සෙ ඔන්න මිනිස්සුත් එක්ක එකතු වෙලා ඒ පිරිස ඔක්කොම ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ මුණගැහෙන්න යනවා. ඉතින් සතුටු සාමීචිය කතා කරලා පිළිසඳර කතා කරලා ඒ පිරිස නිශ්ශබ්ද වුනාට පස්සෙ කූටදන්ත බ්‍රාහ්මණයා ශ්‍රමණ භවත් ගෞතම වූ - ඒ බ්‍රාහ්මණයා හිතන විදිය - ඒ අපගේ භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගෙන් ප්‍රශ්නයක් අහන්න හිතුවා. ඒ තමයි එයාට තිබ්බ ලොකු ප්‍රශ්නෙනෙ. ත්‍රිවිධ වූ යාග සම්පත් ගැනත්, යාගයට උවමනා කරන දාසයාකාර පිරිකර ගැනත් දන්නා සේක ඔබවහන්සේ, මම අහලා තියෙනවා. ඒ නිසා ස්වාමීනී, භාග්‍යවතුන් වහන්ස, මට කියලා දෙන්න මොනවද ත්‍රිවිධ යාග සම්පත්. ඒ වගේම යාගයට වුවමනා දාසයාකාර පිරිකර ගැන කියලා දෙන්න කිව්වා. මේක නම් හරී වටින කාරණාවක්. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා එහෙමනම් බ්‍රාහ්මණය මං ඕක කියලා දෙන්නම්, කන් යොමුකරගෙන අහන්න කියලා ලස්සන ජාතක කතාවක් දේශනා කරනවා, හරිම ලස්සනයි. පින්වත් බ්‍රාහ්මණය මේක ඉස්සර වෙච්චි දෙයක්. ඒ තමයි මහා විජිත කියලා රජ කෙනෙක් හිටියා. ඒ රජතුමා සම්පත් වලින් ආඩ්‍ය වෙලා භවබෝග සහිතව රන්රිදී මුතුමැණික්වලින් ආඩ්‍ය වෙලා අටුකොටු පුරවගෙන හිටපු රජ කෙනෙක්. මේ රජතුමාට හිතුනා මට මිනිස් ලෝකයේ තියෙන මහත් භෝග සම්පත් ලැබිලා තියෙනවා. ඒ නිසා මේ සා පෘථිවි මණ්ඩලය දිනාගෙන මං අධිපති වෙලා ඉන්නවා. ඉතින් මාත් මහා යාගයක් කලොත් හොඳයි, මට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතින කියලා මහා යාගයක් කරන්න දැන් මෙයා කල්පනා කලා. එහෙම කල්පනා කරලා පුරෝහිත බ්‍රාහ්මණයාට කතා කරලා කිව්වා, එම්බා බ්‍රාහ්මණය, මම හුදෙකලා විවේකයෙන් ඉන්නකොට මෙහෙම කාරණාවක් හිතුනා. නුඹ මට උදව් කරන්නට ඕන. නුඹ මට උපදෙස් දෙන්නට ඕන. නුඹ මට මග කියලා දෙන්නට ඕන, මට මහා යාගයක් කරන්න ඕන. ඒකට මට අනුශාසනා කරන්න. එතකොට පුරෝහිත බ්‍රාහ්මණයා කිව්වා, බොහෝම හොඳයි, හැබැයි රජතුමනි ඔබගේ රාජ්‍යයේ තියෙනවා සොර සතුරු උවදුරු. ඔබගේ රාජ්‍යයේ තියෙනවා ගම් පහරන, මං පහරන, සොරු ඉන්නවා. ඒ සොරුත් සහිත උවදුරු සහිත රාජ්‍යයක තමයි ඔබ ඔය යාග කරන්න හදන්නෙ. ඒ නිසා ඉස්සෙල්ලාම ඒක නැති කරන්න ඕන. එතකොට කිව්වා රජතුමනි, දැන් මං ඔහොම කියනකොට ඔබතුමාට හිතෙයි මං ඔය සොරු ටික ඔක්කොම අල්ලනවා. ඔය සොරු ටික ඔක්කොම අල්ලලා හිරේ විලංගුවෙ දාලා එක්කො දඬ ගහලා, නැත්නම් අපහාස

කරලා, එක්කො පිටුවහල් කරලා, එක්කො මුලින්ම උදුරලා දාලා උන් නැතිකරලා දානවා කියලා ඔබතුමාට හිතෙයි. රජතුමනි වැඩක් නෑ. සොරු මරලා ඉවර කරන්න බෑ කිව්වා. ඔය සොරු එක එකා අල්ලාගෙන යනකොට එක හොරෙක් හරි ඉතුරු වුනොත් එහෙම ඒකා බලවත් වෙලා මුළු රාජ්‍යයම වුනත් වෙනස් කරන්න පුලුවන්. ඒ නිසා රජතුමනි සොරුන්ට සොරකම් කරන්න තියෙන අවස්ථාව මගහරින්න. ඒකට කරන්න තියෙන්නෙ රජතුමනි ගොවිතැන් කරන මිනිස්සු ඉන්නවානෙ. ගොවිතැන් කරන මිනිස්සුන්ට බිත්තර වී දීලා ඒ ගොවිතැන් වලට අයිති බත බුලත් ටික දීලා ඒ මිනිස්සු ආඩ්‍ය කරවන්න. ඊළඟට ව්‍යාපාර කරන අයට ව්‍යාපාරයට දෙන්න පුලුවන් සහයෝගය දෙන්න, ප්‍රාග්ධනය දෙන්න. ඒ වගේම රාජ්‍ය සේවයට එන්න කැමැති අයට රාජ්‍ය සේවයට අරන් බත්වැටුප් දෙන්න. ඔය වගේ මේ රාජ්‍යයේ ඉන්න මිනිස්සු එක එක රැකියාවල් වල නියුතු කරවන්න. එතකොට එක එක්කෙනාට ධනය ලැබෙනකොට සොරු අඩුවෙනවා. ඒක එක ක්‍රමයක් සොරු නැති කරන. ඉතින් ඒ නිසා ඒ මිනිස්සු ධන ධාන්‍යයෙන් ආඩ්‍ය වෙලා දරුවන් සමඟ ඉතාමත් සැනසිල්ලේ සිනාවෙවී ඉඳියි කිව්වා ඊටපස්සෙ. අපි ඊටපස්සෙ බලමු කිව්වා යාගය කරන හැටි. රජතුමා කියපු විදියටම කලා. කියපු විදියටම කලාට පස්සෙ අප්පේ බලන්න එපෑ අවුරුදු දෙක තුනක් යනකොට සොරු අඩුවෙලා, සොරු නැතිවෙලා මිනිස්සු ධන ධාන්‍යයෙන් ආඩ්‍ය වෙලා, ඊළඟට අඹුදරුවන් සමඟ සුවසේ හිනාවෙවී ඉන්නවා. රජ්ජුරුවො කිව්වා පුරෝහිත බ්‍රාහ්මණය මම ඒක කියපු විදියටම වැඩ කලා. මං දැන් ධන ධාන්‍ය පිරිලා අපේ අටු කොටුත් පිරිලා. ඒ නිසා බ්‍රාහ්මණය මං කැමතියි මහා යාගයක් කරන්න, මට අනුශාසනා කරන්න. ඊටපස්සෙ කිව්වා එහෙනම් රජතුමනි මෙන්න මෙහෙම කරන්න ඕන. ඔබගේ අණ පිළිපදින ගම්වාසී, නියම්ගම් වාසී, ජනපදවාසී රාජකීය පිරිස ඉන්නවානෙ. ඒ පිරිසට ඔබ කියන්න ඕන, භවත්නි මං මහා යාගයක් කරන්න කැමැතියි, ඒ යාගයට අනුමැතිය දෙන්න. එය මට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා කියලා අර එයාලගේ සහාය ගන්න. කැමැත්ත ගන්න සහාය ගන්න. ඒ වගේම ඔබතුමාගේ අණ පිළිපදින ඇමැති මණ්ඩලය ඉන්නවානෙ. ඒ වගේම ඔබතුමාගේ අණ පිළිපදින සම්භාවනීය බ්‍රාහ්මණ පිරිස් ඉන්නවානෙ. ඔබතුමාගේ අණ පිළිපදින සම්භාවනීය ගිහිපිරිස ඉන්නවානෙ. ඔය හතරගොල්ලට - රාජකීය පිරිස, ඇමති පිරිස, සම්භාවනීය බ්‍රාහ්මණ පිරිස, සම්භාවනීය ගිහි පිරිස - ඒ ඔක්කොටම දැනුම් දෙන්න යාගය කරන එක. ඊටපස්සෙ ඒකට එයාලගේ අනුමැතිය ගන්න කිව්වා. ඊටපස්සෙ එසේය කියලා

රජතුමා ඒ පිරිසට කතා කරලා, රාජකීය පිරිසට, තමන්ගේ අණ පිළිපදින රාජකීය පිරිසට, ඊළඟට ඇමැති පිරිසට, සම්භාවනීය බ්‍රාහ්මණ පිරිසට, සම්භාවනීය ගිහි පිරිසට කිව්වා මං මෙහෙම යාගයක් කරන්න කැමැතියි, මට බොහෝ කල් හිතසුව පිණිස පවතින, ඔය අයගේ අනුමැතිය මට ඕන. ඉතින් භවත් රජතුමනි යාගය කරන සේක්වා. මහා රජාණෙනි යාගය කරන සේක්වා. දැන් මට මේක කියනකොට තේරුනේ යම් පින්කමක් කරද්දි අපි ඒ පින්කම දන්වන්න ඕන වෙන්නෙ ඕන පිරිසක් තියෙනවා. ඒ තමයි තමන්ගේ වචනයට නඩත්තු, ඒ කියන්නෙ තමන්ගේ වචනය පිළිගන්න වැදගත් අයට තමයි කියන්නෙ. මේක ඔක්කෝටම කියන් නෑ. ඒ රජතුමා එහෙමනෙ කළේ. එතකොට අපි වුනත් පින්කමක් කරද්දි ඒක වැදගත්ම කාරණාවක් මේක. පින්කමක් කරද්දි, පින්කමක් කරන්න සංවිධානය කරද්දි රටේ ලෝකෙ ඉන්න ඔක්කොටම අණබෙර ගහන් නෑ, දැන් අද කාලෙ ඒක නැනෙ. ෆේස්බුක් දාපු ගමන් ඒකා වැදගත් ද නැද්ද තමන්ගේ මතයට එයාලා නඩත්තු නැද්ද එහෙම කතාවක් නැනෙ. ඔක්කොම ඒකට බැල්ම හෙලනවානෙ. එහෙම තමයි පින්කම් අවුල් වෙන්නෙ. මේ බලන්න මේ බුද්ධ දේශනාවෙන් ගන්න මේකෙ අර්ථය. තමන්ගේ වචනය අහන පිළිපදින සම්භාවනීය අයට කියන්නෙ ඒක. සියලු දෙනාටම ඒක කියන්නෑ. ඊටපස්සෙ ඔන්න ඒ පිරිසගෙන් අනුමැතිය ගත්තා. ඊටපස්සෙ දැන් ගමක පන්සලක වුනත්. දැන් මේ බණ අහනවා නම් පන්සල්වල හාමුදුරු නමක් වුනත්, මේ හාමුදුරුවන්ටත් හොඳ උපදෙසක් මේක. ඒ තමයි පන්සලෙත් මොනවාහරි පින්කමක් කරද්දි, සංඝාරාම වෙහෙර විහාර චෛත්‍යය හදද්දි ඔක්කොටම කියලා මේක කරන්න බෑ. ගමේ ඉන්නවා නම් හාමුදුරුවන්ගේ වචනය අහන වැදගත් මිනිස්සු, ඒ වැදගත් මිනිස්සුත් එක්ක කතා කරලා වැඩේ පටන් ගත්තහම හරි. ඒකයි ගොඩක් දුරට වෙහෙර විහාර කර්මාන්ත කරන්න බැරි. මොකද මේකට නුසුදුසු පුද්ගලයො මේකට අතදැමීම තුළින් පින්කම් අවුල් වෙලා යනවා. ඊටපස්සෙ ඔන්න දැන් කිව්වා පුරෝහිත බ්‍රාහ්මණයා රජතුමනි ඔය පිරිස හතරට ඔබතුමා කියලා අනුමැතිය ගන්න. ඔන්න ඒ පිරිස් හතරට කියලා අනුමැතිය ගන්න එක තමයි පළවෙනි පිරිකර හතර. පිරිකර දාසයෙන් පිරිකර හතර. ඊටපස්සෙ රජතුමා ගාව තියෙන්න ඕන පිරිකර අටක්. මොකක්ද ඒ පිරිකර අට. රජතුමා මව් පාර්ශ්වයෙන් පිය පාර්ශ්වයෙන් පිරිසිදු කුලයක වෙන්න ඕන. ඊළඟට වංශෙන් අපවාද උපවාද නොලබපු කෙනෙක් වෙන්න ඕන. ඉතා රූපවත් කෙනෙක් වෙන්න ඕන, දකින්න පවා දුෂ්කර ඉතා සොඳුරු රූපයක් තියෙන රජෙක් වෙන්න ඕන. ඊළඟට සැප

සම්පත් වලින් ධනයෙන් ආඪ්‍ය කෙනෙක් වෙන්න ඕන. ඊළඟට රජ අඞ්ගට සවන් දෙන, රජ්ජුගේ අවවාදයට කටයුතු කරන ඇත්, අස්, රිය, පාබල යන චතුරංගනී සේනා සමන්නාගත චතුරංගනී සේනාවකින් සමන්විත වෙන්න ඕන. රජ්ජුගේ තේජසින් විරුද්ධ පාක්ෂිකයන් දැවී යන්න ඕන. ඒ රජතුමා කතා කරනකොට, යනකොට, එනකොට විරුද්ධ පක්ෂයේ අය සැලිලා යන්න ඕන කියනවා. ඊටපස්සෙ තියෙනවා ශ්‍රද්ධාවන්ත, පරිත්‍යාගශීලී, දානපති ශ්‍රමණ බ්‍රාහ්මණයන්ට, දුගී දුප්පතුන්ට උපකාර කරන සොයලා බලන, පැන් තොටක් වගේ රජකෙනෙක් වෙන්න ඕන. ඊටපස්සෙ තමා ඉගෙනගන්නා ඒ කරුණු පිළිබඳව බහුශ්‍රැත කෙනෙක් වෙන්න ඕන. මේ කියන්නෙ මේකයි කියලා අර්ථය තේරෙන රජෙක් වෙන්න ඕන. ඒ වගේම ඥාණවන්ත වෙන්න ඕන, ව්‍යක්ත වෙන්න ඕන, ඉතා බුද්ධිමත් වෙන්න ඕන. අතීත අනාගත වර්තමාන කරුණු පිළිබඳව අරුත් සිතන්න දක්ෂ වෙන්න ඕන. මහා විජිත රජතුමා ඔය අංග අටෙන් සමන්විතයි කියනවා. අර හතරගොල්ලකගේ අනුමැතිය තමයි පළවෙනි පිරිකර හතර. රජතුමා ළඟ තිබුනු ගුණ අට තමයි දෙවෙනි පිරිකර අට. දැන් පිරිකර දොළහයි. පුරෝහිත බමුණාගේ කරුණු හතරක් තියෙන්න ඕන මහා යාගයට. ඒ තමයි මව්පිය පාර්ශ්වයෙන් පිරිසිදු වෙන්න ඕන, වේද වේදාන්තර හදාරපු කෙනෙක් වෙන්න ඕන. සිල්වත් කෙනෙක් වෙන්න ඕන. නුවණ තියෙන ප්‍රඥාවන්ත කෙනෙක් වෙන්න ඕන පුරෝහිතයා. මේ පුරෝහිත තමයි ඒ අංග හතරෙන් සමන්විතයි. දොළහයි හතරයි දාසයයි. ඕක තමයි පරිෂ්කාර දාසය. ඔහොම යාගයක් දැන් කොහොමෙයි කරන්නෙ. දැන් රජතුමාට නම් ඒ කරුණු දාසයම එකතු වුනා. ඊටපස්සෙ බ්‍රාහ්මණ පුරෝහිතයා මහා විජිත රජ්ජුරුවන්ට කාල තුන කියලා දුන්න. අර යාග සම්පත් තුන තමයි කාල තුන. මොකක්ද, රජතුමනි යාගයක් කරන්න ඔබ කැමති වෙනවානෙ. ඒ කැමැති වෙලා යාගය කරන්න කලින් හිත අපහදව ගන්න එපා. අනේ මං මේ කට තිබ්බ පළියට යාගයකට සූදානම් වුනා. දැන් මේ යාගය කරන්න ගිහිල්ලා මාගේ භෝග සම්පත් නැසෙයි වැනසෙයි කියලා හිතන්න එපා කිව්වා. දානයක් දෙනකොට සල්ලි ඉතුරු කරගන්න ඒවා, ඊළඟට වියදම් වැඩිවෙයිද, කින්ද මන්ද හිතන එක යාග සම්පත වැනසීමක්. කිව්වා රජතුමනි භවබෝග විනාශ වෙයි නැතිවෙයි කියලා හිතන්න එපා කිව්වා දන් දෙන්න කලින්. හිත අපහදවගන්න එපා කිව්වා. ඊටපස්සෙ යාගය කරනකොට ඔබට හිතෙයි දෙවියනේ ලොකු ධනයක් නේද මේ වියදම් වෙන්නෙ කියලා. එහෙම හිතන්න එපා කිව්වා. යාගය කලාට පස්සෙ හිතෙයි අයියෝ මේ යාග වෙනුවෙන් මහා ධනයක් වැනසිලා ගියානේ

කියලා හිතෙයි කිව්වා. එහෙම හිතෙන්න දෙන්නත් එපා කිව්වා. ඕක තමයි කිව්වා කාල සම්පත් තුන. ඕක තමයි කියනවා යාගය පිණිස මූලික වන මූලික කරුණු තුන. ඒකට කියනවා යාග සම්පත් තුන කියලා. ඕකෙන් තමයි යාග කරන්නෙ. හිත අපහදවගන්නෑ තුන් තැනින්. අද කාලෙ නම් දානයක් දුන්නට පස්සෙ කොතනක හරි හිත සවුත්තු වෙනවානෙ. ඊටපස්සෙ මේ පුරෝහිත තුමා හරී නුවණක්කාරයි. මේ පුරෝහිතතුමා කිව්වා පින්වත් රජතුමනි, ඔබතුමාගේ හිත විපිළිසරට පත්වෙනා කාරණා ටික දැන්ම නැතිකරගන්න කිව්වා. හරිම ලස්සන කාරණාවක් කියන්නෙ, මං පුදුම සහගත වුනා මේක කියවලා. ඒ තමයි ඔබතුමා දානයක් දෙනකොට ඔය දානෙට එනවා සත්තු මරන මිනිස්සුත්. හිතන්නකො දන්සැලක් ගැන. ඔන්න දන්සැල දෙනකොට දන්සැලට එන්නැද්ද සත්තු මරන මිනිස්සු. කිව්වා රජතුමනි, ඔබ දානය දෙනකොට සත්තු මරන මිනිස්සුත් එනවා. එතකොට සත්තු මරපු එක ඒ මිනිස්සුන්ට. ඒ මිනිස්සු සත්තු මරපු එක ඔබට අයිති නෑ, ඔබ දන් දෙන්න සත්තු නොමරන අය වෙනුවෙන්. ලස්සන කාරණාවක්. ඔබ දානයක් දෙනකොට රජතුමනි හොරකම් කරපු මිනිස්සුත් එනවා ඔය අතර. ඔබ ඒ මිනිස්සු කරපු හොරකම ඒ මිනිස්සුන්ට, ඔබ දන් දෙන්න හොරකම් නොකරපු අය වෙනුවෙන්. රජතුමනි ඔබ දානයක් දෙනකොට වැරදි කාම සේවනය කරපු අයත් එනවා. එතකොට වැරදි කාම සේවනය කරපු එක ඒ මනුස්සයට. ඔබ දානය දෙන්න වැරදි කාමසේවනය නොකරපු අය වෙනුවෙන්. එතකොට ඔබ දානෙ දෙනකොට ඔබට හොයාගන්න බෑ බොරු කියපු මිනිස්සුත් එනවා. එතකොට බොරු කීම ඔබට අයිති දෙයක් නෙවෙයි ඒක ඒ මනුස්සයට. ඔබ දානය දෙන්න බොරු නොකියපු අය වෙනුවෙන්. රජතුමනි ඔබ දානය දෙන්න යනකොට ඔතෙන්ට එනවා කේලම් කියන අය, ඔබට හොයාගන්න බෑ. එතකොට කේලම් කියපු පාපය ඒ මනුස්සයට. ඔබ දානය දෙන්න කේලම් නොකියපු අය වෙනුවෙන්. රජතුමනි ඔබ දානය දෙනකොට පරුෂ වචන කතා කරන අය එනවා. පරුෂ වචන කතා කිරීමේ පාපය ඒ මනුස්සයාට. ඔබ දානය දෙන්න පරුෂ වචන නොකියන අය වෙනුවෙන්. රජතුමනි ඔබ දානය දෙන්න යනකොට ඔතෙන්ට එනවා හිස් වචන කියන මිනිස්සු. හිස් වචන කියපු එක ඒ මනුස්සයාට. ඔබ දානෙ දෙන්න හිස් වචන නොකියපු අය වෙනුවෙන්. රජතුමනි ඔබ දානයක් දෙනකොට මහා ලෝභයෙන් තියෙන දේ ඩැහැගෙන යන අදහසින් ලෝභකමින් එන මිනිස්සු එනවා. ඒ ලෝභකම ඒ මිනිස්සුන්ට. ලෝභ නැති මිනිස්සු වෙනුවෙන් දන් දෙන්න. රජතුමනි ඔබ දන්දෙනකොට තරහෙන්

පුපුර පුපුර ඉන්න වෛරක්කාරයො පවා එනවා දන් කන්න. ඒ වෛරය, ඒ තරහව ඒ මිනිස්සුන්ට. වෛර නොකරන මිනිස්සු වෙනුවෙන් දන් දෙන්න කිව්වා. රජතුමනි ඔබ දානය දෙනකොට ඔතෙන්ට එනවා එක එක මතවාද වලින් ඔළුව අවුල් වෙලා ගිය දෘෂ්ටි ජාලා තියෙන මිනිස්සු එනවා. ඒ දෘෂ්ටි ජාලා ඒ මිනිස්සුන්ට. ඔබ දන්දෙන්න සම්මා දිට්ඨිය තියෙන මිනිස්සු සිහි කරලා. එතකොට ඔබතුමාගේ හිත සන්තෝෂයට පත්වෙනවා, ඉතින් ඔවුන් අරභයා දන් දෙන්න. භවතාණන් ඔවුන් අරභයා පරිත්‍යාග කරන සේක්වා. භවතාණන් යාගයෙන් සතුටු වන සේක්වා. භවතාණන් යාගය කරද්දි සිතම පහදාගන්නා සේක්වා. පුදුම පුරෝහිත කෙනෙක්. එහෙනම් ඔබද දන්දිය යුත්තේ රහතන් වහන්සේලාට. රාගය දුරු කරපු, ද්වේෂය දුරු කරපු, මෝහය දුරු කරපු රහතන් වහන්සේලා සිහි කරගෙන සාංඝිකව දන්දෙන්න. ඒ දන් ලබන අය රාගයක් තියෙනවා නම්, තරහ තියෙනවා නම්, මෝහය තියෙනවා නම් ඒක ඔවුන්ට. ඊටපස්සෙ තියෙනවා පින්වත් බ්‍රාහ්මණය, ඉතින් පුරෝහිත බ්‍රාහ්මණයා මහාවිජිත රජතුමාගේ යාගයට කලින්ම යාගය පිළිගන්නා පිරිස කෙරෙහි ඇතිවිය හැකි විපිළිසර මේ දස ආකාර කරුණු වලින් නැති කලා. ඔතන තියෙන්නෙ දස කුසල පද. කොහොමද කලින්ම හිත හදන, පුදුම පුරෝහිත කෙනෙක්. ඊටපස්සෙ කිව්වා රජතුමනි තව කාරණාවක් හිතන්න ඕන. ඔය දානෙ දෙනකොට මිනිස්සු ඔතන ඉන්නවා එක එක අඩුපාඩු හොයන අය. මහාවිජිත රජතුමා කෝ ඉතින් ඔය දානෙ දුන්නට අහවල් අහවල් ඇති ඇමැතිවරු ගෙන්නලා නෑනෙ. මේ බලන්න පින්වතුනි, සම්මා සම්බුදු කෙනෙක් ලෝකෙ පහළ වෙන්න කලින් වෙච්ච දානයක් ගැන මේ කියන්නෙ. අදත් නැද්ද කෝ ඔයාලා මහලොකුවට දන් දුන්නා, අර පුංචි අම්මට කිව්වද, නැන්දට කිව්වද, අරෙහෙ ලොකු අයියට කිව්වද, ඔයාලා හොරෙන් දාන දෙනවා නේද කියලා අදත් කියන් නැද්ද. පුරෝහිත බ්‍රාහ්මණයා දැන්ම ඒවා හදනවා. රජතුමනි දැන් කියයි රාජකීය අහවල් අහවල් පිරිසට කියලා නෑ, රජතුමා ඔය මහලොකුවට දානෙ දුන්නට කියලා. අනේ රජතුමනි ධර්මානුකූළ නෑ ඔය මිනිස්සුන්ගෙ කතා. ඔබතුමා මුලින්ම සම්භාවනීය රාජකීය පිරිසට දැනුම් දුන්නානෙ මේක. ඒ කට්ටිය ඇවිල්ලනෙ ඉන්නෙ. ඊටපස්සෙ කියයි ඔය කිව්වට ඇමැති පිරිසට කියලා නෑ, ඊළඟට ඔය කිව්වට ප්‍රභූ බ්‍රාහ්මණවරුන්ට කියලා නෑ, ගෘහපතිවරුන්ට කියලා නෑ කියලා. ඒ මිනිස්සුන්ගේ කතා ධර්මානුකූල නෑ, ඔබතුමා මුලින්ම ඒ පිරිසට දැනුම් දීලා අනුමැතිය ගත්තානෙ. ඒ පිරිසත් ඇවිල්ලා ඉන්නවානෙ. මිනිස්සුන්ගේ කතා අහන්න ඕන නෑ රජතුමනි. දන් දෙන්න කලින්ම කියනවා.

ඊටපස්සෙ කියනවා රජතුමනි ඔය මිනිස්සු එක එක ඒවා කිව්වට ඔය රජතුමා කුලය හොඳ නෑ, රජතුමා ලස්සන නෑ, ඊළඟට රජතුමාගේ භවබෝග නෑ, රජතුමාගේ අණ අනිත් අය පිළිපදින් නෑ, රජතුමා නුවණැති නෑ, ව්‍යක්ත නෑ කියලා අර රජතුමාගේ මූලික කරුණු අටක් තිබ්බානෙ. රජතුමනි මිනිස්සු ඔහොම කතා කිව්වට රජතුමා කරුණු අටකින් සමන්විතයි. ඊටපස්සෙ කියනවා රජතුමනි ඔහොම කිව්වට තවත් කට්ටියක් කියයි ඔය කිව්වට ඔය උපදෙස් දෙන පුරෝහිතයාගේ කුලය හොඳ නෑ, වේදය දන් නෑ, පුරෝහිතයා සිල්වත් නෑ, නුවණැති නෑ කියලා, අනේ ඒ මිනිස්සුන්ගේ කතා ධර්මානුකූල නෑ. රජතුමනි ඒ මිනිස්සු එහෙම කිව්වට පුරෝහිතයා ඔය ගුණ හතරෙන් යුක්තයි කියලා ඔන්න මුලින්ම අර මිනිස්සුන්ගේ කතා වලින් හිත වෙනස් වෙන එක වැළැක්වුවා. පුදුම පුරෝහිත රත්නයක් මේ. ඊටපස්සෙ මහා විජිත රජ්ජුරුවෝ යාගය කරමින් සිටියදී මේ කරුණු දාසය තුළින් සිත දැනුවත් කලා. එහි සමාදන් කෙරෙව්වා, උත්සාහවත් කෙරෙව්වා. පුරෝහිතයාගේ කටයුත්ත බලන්න. තමන්ගේ කටයුත්ත තේරුම් ගත්තා. රජතුමා දන් දෙනවා, පුරෝහිත හැමවෙලාවෙම රජතුමාගේ හිත රකිනවා. නියමයි, පුදුම සහගතයි. ඊටපස්සෙ පින්වත් බ්‍රාහ්මණය, ඒ යාගයේ ගවයන් මැරුවේ නෑ. එළුවෝ මැරුවෙ නෑ, කුකුල්ලු මැරුවෙ නෑ, විවිධාකර සතුන් මැරුවෝ නෑ. යාග කණු සකස් කිරීමට ගස් කැපුවෙ නෑ, බිම සකස් කිරීමට තණකොළ කැපුවෙ නෑ, දාසයො ඉන්නවා නම් මෙහෙකරුවෝ ඉන්නවා නම් ඔවුන්ට වේවැල් වලින් ගගහ වැඩ ගත්තෙ නෑ, භය කෙරෙව්වෙ නෑ, කඳුළු වැටුනු මුහුණින් වැඩ ගත්තෙ නෑ. යම්කිසි කෙනෙක් වැඩක් කරන්න කැමැති නම් ඒ අය වැඩේ කලා, අකැමැති නම් නොකෙරෙව්වා. කැමැති අය උදව් වුනා. කැමැති අය උදව් වුන් නෑ, ගිතෙල්, තලතෙල්, වෙඬරු, දීකිරි, මීපැණි, හකුරු, කැඳබත් ආදියෙන්ම යාගය අවසන් වුනා. හොඳ කාරණා මේවා. ඔබ දානෙකට ගියාට පස්සෙ ඔන්න අපේ බස් එකේ ගෙන්නගෙන ගියා, මහලොකුවට උන් බස් එකේ නැගලා ආවට එළඹු ගෙඩියක් ශුද්ධ කරන්න ආවද එකෙක්වත්, කියලා නැද්ද නොහොඳ නෝක්කාඩු. එහෙම දන් දෙන එකේ දෝෂයක් තියෙනවා. කැමැති අය එළඹු ශුද්ධ කරපුවාවෙ. කැමැති අය එළඹු කපපුවාවෙ. කැමැති අය හාල් ගරපුවාවෙ. තමන් දානෙ හොඳට දානෙ දෙන්න ඕන. කැමැති කෙනෙක් උදව් වුනාවෙ. කාගෙවත් මූණුවලට කඳුලු දාන්න එපා. කාගෙවත් මූණු ඇඹුල් කරවන්න එපා. ඒවා තමයි දාන කියන්නෙ. පිරිසිදුව දෙන දාන. ඊටපස්සෙ බ්‍රාහ්මණය, රජතුමාගේ අවවාද පරිදි කටයුතු කල ගම්වැසි, ඊටපස්සෙ රජතුමා මෙහෙම දන් දෙනකොට

ඇමැතිවරු කල්පනා කලා රාජකීය පිරිස, අනේ රජතුමා මෙහෙම දානෙ දෙනවා, ඒ වුනාට අපෙන් රජතුමා හාල් ඇටයක් ගත්තෙ නෑනෙ. කියලා එයාලා භවභෝග අරන් රාජකීය පිරිස ආවා. රජතුමා කිව්වා අනේ මට හොඳට ධනය තියෙනවා, ඔයාලා මේවා ගේන්න එපා. ඕන නම් අපේ රාජ ගබඩාවෙනුත් අරන් යන්න කිව්වා. ඒ මිනිස්සු කල්පනා කලා අපි මේක ගෙනිහිල්ලා හරියන්නෑ කියලා අර දන්දෙන තැන නැගෙනහිර පැත්තේ රාජකීය පිරිස ආයෙ දන්සැලක් පටන් ගත්තා. ඇමැතිවරු ඇවිල්ලා කල්පනා කලා රජතුමා ලොකු දානයක් දෙනවා අපෙන් කියලා තෙල් ටිකක්වත් ගත්තෙ නෑ, හොඳ නෑ මේක අපිට කියලා ඒ අය භවභෝග අරන් ආවා. රජතුමා කිව්වා අනේ මට භවභෝග තියෙනවා, ඔයාලා කැමැති නම් මේ රාජමාළිගාවෙනුත් අරන් යන්න. ඒ මිනිස්සු දකුණු දිශාවේ දානයක් දුන්නා. බ්‍රාහ්මණ පිරිස බටහිර දිශාවෙ දන් දුන්නා. ගෘහපති පිරිස උතුරු දිශාවේ දන් දුන්නා. ලොකු දානයක්. මෙහෙම දෙනකොට මහා විජිත රජ්ජුරුවො අංග අටකින් සමන්විතයි, පුරෝහිතයා අංග හතරකින් සමන්විතයි. පක්ෂ හතරකින් අවසර ගත්තා. සොළොස් පිරිකර. දානෙ දෙන්න කලින්, දානෙ දෙනකොට, දානෙ දුන්නට පස්සෙ හිත පහදවගන්න එක තමයි යාග සම්පත් තුන. ඔන්න බ්‍රාහ්මණය, කූටදන්ත බ්‍රාහ්මණය දැන් තේරෙනවාද ඇහුවා යාග සම්පත් තුනයි, ඊළඟට සොළොස් පිරිකරයි. මෙහෙම කියනකොට බමුණො උස් හඬින් මහා හඬින් කතා කරන්න ගත්තා. අහෝ යාගං අහෝ යාගං මහා යාගං, මේවනෙ යාග, මේවනෙ දාන, මේවනෙ දෙන්න ඕනවෙන්නේ කියලා අර බමුණු පිරිස සතුටට පත්වෙලා. බමුණු පිරිස ගැන කවර කතා ද, අපිටත් සතුටුයිනෙ මෙහෙම දානයක් දෙන්න ඇත්නම්. ඊටපස්සෙ මෙහෙම කියනකොට අර ඔක්කොම සතුටු වෙනවා කූටදන්ත බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ දිහාම බලාගෙන ඉන්නවා මොකුත් කියන්නැතිව. ඊටපස්සෙ බමුණො ඇහුවා ඈ බ්‍රාහ්මණය, අපි මෙච්චර සතුටු වෙනවා ඔබ අනුමෝදන් වෙන්නැද්ද මේ සුභාෂිත වචනය. අනේ මං ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේගේ සුභාෂිත වචනය අනුමෝදන් නොවුනොත් හිස හත්කඩකට පැලෙයි කිව්වා. මං මේ කල්පනා කලේ මෙහෙම යාගයක් කලාලු, ඉස්සර මෙහෙම එකක් වුනාලු කියලා කතා කරන්නැතිව මෙසේ වුනා, මෙසේ වුනා කියලා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ කතා කලා. මට නම් හිතෙන්නේ ඔය මහා විජිත රජ්ජුරුවො හරි පුරෝහිතයා හරි ඒ දෙන්නාගෙන් එක්කෙනෙක් වෙලා අනිවාර්යයෙන් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ඉපදිලා තියෙනවා කියලා. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා,

ඔබ අනුමාන කරලා කිව්වෙ, ඒ කාලෙ පුරෝහිත බ්‍රාහ්මණයා වෙලා හිටියේ මම කිව්වා. පුදුම සහගතයි. පුදුම සහගතයි අපේ ශාස්තෲන් වහන්සේ. ඒ කාලෙත් හිත රැක්කා. දන් දෙන හිත රැක්කා. තුන් සිත පහදවගෙන දන් දෙන්න. කුසල් තියෙන අය වෙනුවෙන් දන් දෙන ඒවට අනිත් අය සමාදන් කෙරෙව්වා. අනිත් අය පීඩාවට පත් කලේ නෑ. ඉතින් ඒකයි කියලා එතනින් පස්සේ එය කූටදන්ත බ්‍රාහ්මණයා අහනවා ඔය යාගයට වැඩිය තවත් වෙන යාග තියෙනවාද කියලා. ඒක ලස්සන කතාවක්. ඒක ඊළඟ දවසේ තමයි අපිට කතා කරන්න වෙන්නෙ. ඒ නිසා අදට ඔය ටික විතරයි. කූටදන්ත සූත්‍රයේ ඉතුරු ටික ඊළඟ දවසේ අහගමු.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දැරුවේ විජේපුර, දියසෙන්පුර, මැදිරිගිරිය පින්වත් පී.ජී. ඩිංගිරිමාතා මහත්මිය විසින්. ඉතින් බලන්න අපේ ශාස්තෲන්වහන්සේ සංසාරෙ. පුදුම සහගතයි, තමන්ගේ කටයුත්ත හරියට කරපු විදිය, ඒ දානෙට උපදෙස් දුන්නු විදිය. බෝධිසත්ත්ව කාලෙ එවැනි ගුණ තිබ්බා නම් සම්බුදුරජාණන් වහන්සේ ගැන කවර කතාද. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. ඒ නිසා පින්වත් පී.ජී. ඩිංගිරිමාතා මැණියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය මෙන්ම තුණුරුවන් සරණින් ගෞතම සසුනේ පිහිට ලැබේවා කියලා අපි එතුමියට සෙත් ප්‍රාර්ථනා කරනවා. ඒ වගේම සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙත්වා. ගෞතම සසුනත්, ශ්‍රාවක පිරිසත් රකිත්වා. මිය පරලොවගිය ඥාතීන් පින් අනුමෝදන් වෙත්වා. පරලොව සැපයට පත්වේවා. මේ උතුම් සොඳුරු ශ්‍රී සද්ධර්මය ඉර සඳ සේ ප්‍රකට කරලා අපිට දහම් කියලා දුන්න අපගේ ගුරු දෙවිඳුන් නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂම ලබත්වා. ගුරු දෙවිඳුන් ඇතුළු සඟරුවනටත්, අනගාරිකා මැණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූදරුවන්ටත් ගෞතම සසුනේ ධර්මාවබෝධය වේවා. ඒ වගේම පී.ජී. ඩිංගිරිමාතා මැණියන්ටත් ඒ පවුලේ සියලු දෙනාටත් නොයෙක් කරදර බාධක දුරින්ම දුරු වෙලා උතුම් සම්බුද්ධානුභාව බලයෙන් සියලු සෙත සැනසිල්ල රැකවරණය සැලසේවා. ධර්ම දානයේ පින් බලයෙන් ඒ පවුලේ සියලු දෙනාට සෙත සැනසිල්ල යහපත සැලසේවා. ධර්ම ශ්‍රවණය කළ ඔබ සියලු දෙනාට හැදූ වැඩූ දෙමාපියන්ට, අකුරු කෙරූ ගුරුවරුන්ට, නෑදෑ හිත මිත්‍රාදීන්ට පින්සිදු වේවා.

ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලියේ කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට පින්සිදු වේවා. අපි කාටත් උතුම් සම්බුදු සරණින් සැනසී ගෞතම සසුනේ පිහිට ලබන්න මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=4U8NAS5CMbQ&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=82

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තිය සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් අපේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු දිවියත් උන්වහන්සේ විසින් වදාළ පරම පිවිතුරු ඒ උතුම් ශ්‍රී සද්ධර්මයත්, භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවක සංඝරත්නය වූ ඒ මහරහතන් වහන්සේලා ගැනත් චිත්ත ප්‍රසාදය ඇතිවෙන දහම් වැඩසටහන් මාලාවක් තමයි මේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන. නුවණ තියෙනවා නම් පින තියෙනවා නම් බුදුරජාණන් වහන්සේට ශ්‍රී සද්ධර්මයට ආර්ය මහා සංඝරත්නයට පහදින්න මේ තරම් ලැබෙන අවස්ථාව හිතාගන්න බැරිතරම්. ඉතින් අද දවසේ අංක 163, මහින්දාගම, අසේලපුර, වැලිකන්ද, පොළොන්නරුව යන ලිපිනයේ පදිංචි සිවිල් ආරක්ෂක දෙපාර්තමේන්තුවේ සේවයේ නියුතු පින්වත් ආර්.එම්. වසන්ත රත්නායක මහත්මයා සහ එස්.ජී. දීපිකා ප්‍රියදර්ශනී මහත්මිය විසින් තමයි දායකත්වය දරන්නෙ, මේ පින්වතුන් භාග්‍යවතුන් වහන්සේගේ උතුම් ශ්‍රී සද්ධර්මය අන් අයට අහන්න සලස්වලා බොහෝ පින්

රැස් කරගන්නවා. බොහෝ කුසල් රැස් කරගන්නවා. ඉතින් පින්වත්නි අද දවසේත් අපි කතාකරන්නෙ කූටදන්ත සූත්‍රය, දීඝ නිකායේ පළවෙනි පොත් වහන්සේගේ. මීට කලින් වැඩසටහනේ අපි කතා කලා ඒ කූටදන්ත සූත්‍රයේ මුල් කොටස, පළවෙනි බණවර. හරී පුදුම සහගතයි. කූටදන්ත බ්‍රාහ්මණයාට යාගයක් කරන්න හිතුනා. ඒ නිසා ගවයො නාඹර ගවයො, එළදෙන්නු, එළුවො ආදී වශයෙන්, බැටළුවො මේ ආදී වශයෙන් තුන්දහස් පන්සීයකට අධික සත්තු ප්‍රමාණයක් කණුවල ගැටගහලා යාගය කරන්න සූදානම් වෙන කාලෙ බුදුරජාණන් වහන්සේ ඒ ජනපදයට වැඩම කලේ. අම්බලට්ඨිකාවට, මගධයේ. එතකොට කූටදන්න බ්‍රාහ්මණයා යාගයක් කරනකොට යාගයට ත්‍රිවිධ සම්පත් සහ පරිෂ්කාර දාසයක් ඕන. එතකොට ඒක මොකක්ද කියලා බුදුරජාණන් වහන්සේගෙන් අහන්න යන්න සූදානම් වෙනකොට බමුණො කිව්වා යන්න එපා, කියලා කූටදන්ත බ්‍රාහ්මණයා යන්න එපා කියන කාරණාවට බමුණො කාරණා එකොළහක් කිව්වා, කූටදන්ත බ්‍රාහ්මණයා මම ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ බැහැදකින්න යන්න මමයි සුදුසු කියලා කරුණු විසිනවයක් කිව්වා. අවසානයේ සියලු දෙනා බුදුරජාණන් වහන්සේ ළඟට ගිහිල්ලා මේ යාග කරන්න ඕන ත්‍රිවිධ සම්පත් තුනයි, ඒ කියන්නෙ සම්පත් තුන සහ සොළොස් පිරිකර මොනවද කියලා ඇහුවා. බුදුරජාණන් වහන්සේ වදාළා ඔය කාරණාව මං අතීතයේ වෙච්චි දේකින් කියලා දෙන්නම් කියලා මහා විජිත කියන රජතුමාගේ අතීත ප්‍රවෘත්තිය කියාහිටියා. මහා විජිත රජතුමා යාගයක් කරන්න කල්පනා කරනකොට පුරෝහිත බ්‍රාහ්මණයාගෙන් උපදෙස් ගත්තා. පුරෝහිත බ්‍රාහ්මණයා කිව්වා රටේ සොරසතුරු උවදුරු තියෙද්දින් එකපාරම යාග කරන්න හදන්න එපා. ඒ නිසා මේ මිනිස්සු ධනයෙන් ආඪ්‍ය කරලා සොර සතුරු බිය නැති කරන්න. ඊටපස්සෙ මිනිස්සුන්ට ධනය දීලා භවබෝග සම්පත් දීලා මිනිස්සු එක එක කර්මාන්ත වල යෙදෙව්වා, අර නිර්ධන බව නැතිකෙරෙව්වා. එතකොට නිකම්ම සොර උවදුරු නැතිවෙලා ගිහිල්ලා මිනිස්සු සතුටින් වාසය කලා. ඊටපස්සෙ රජ්ජුරුවෝ කියනවා දැන් මං, යාග කරන්න මං කැමැතියි. එහෙනම් රජතුමනි, රාජකීය පිරිසටත්, ඇමැති පිරිසටත්, ප්‍රභූ බ්‍රාහ්මණ පිරිසටත්, ප්‍රභූ ගෘහපති පිරිසටත් ඔබගේ වචනයට නඩත්තු ඔය හතර ගොල්ලෙන් ඔබගේ වචනයට නඩත්තු පිරිසට ඔබ දැනුම් දීමක් කරන්න මම මේ යාගයක් කරනවා, ඒකට උදව් කරන්න, අනුමැතිය දෙන්න කියලා. එතකොට අර කොටස් හතරම අනුමැතිය දුන්නා. ඕක තමයි යාගයේ පරිෂ්කාර පළවෙනි හතර. ඒ වගේම යාග කරනකොට රජතුමා ළඟ තියෙන්න ඕන ගුණ

අටක්. රජතුමාගේ කුලය, රජතුමාගේ රූපය, රජතුමාගේ නුවණැති බව, රජතුමාට අනිත් අය යටත් බව, රජතුමාට අර්ථ වැටහෙන බව, බහුශ්‍රැත බව ආදී වශයෙන් කරුණු අටක්. එතකොට අර පිරිස් හතරට දැනුම් දීමත් තමා තුළ තියෙන ගුණධර්ම අටත් කාරණා දොළහයි. පුරෝහිත, උපදෙස් දෙන කෙනාගෙත් තියෙන්න ඕන කරුණු හතරක්. ඔහුගේ කුලයේ පිරිසිදු බව, ඔහු වේද මන්ත්‍ර දන්න බව, ඔහු සිල්වත් බව, ඔහුගේ නුවණ ඔය හතරයි කාරණා දාසයයි. එතකොට කාරණා දාසය තමයි යාගයකදී පිරිකර දාසය. කාල තුන තමයි දානයක් දෙනකොට, යාගයක් කියන්නෙ දන් දෙන එක. ඒ දානය දෙනකොට දන් දෙන්න කලිනුත්, දන් දීමේත්, දන් දුන්නට පස්සෙත් හිත පහදවා ගන්න ඕන. එතකොට හරී ලස්සන කතාවක් පුරෝහිත තුමා කියනවා රජතුමනි හිත විපිළිසර කරගන්න එපා එයි ඔය දන්සලේ දන් ගන්න එයි සත්තු මරණ අය, හොරකම් කරන අය, වැරදි කාම සේවනය කරන අය, බොරු කියන අය, කේලම් කියන අය, හිස් වචන කියන අය, පරුෂ වචන කියන අය, දැඩි ලෝභයෙන් ඉන්න අය, ව්‍යාපාදයෙන් ඉන්න අය, මිත්‍යා දෘෂ්ටිකයො එයි. නමුත් ඔබ දන්දෙන්න සොරකම් නොකරන අය සිහි කරලා. මේ සත්තු නොමරණ අය සිහි කරලා. සොරකම් නොකරන අය සිහි කරලා. වැරදි කාමසේවනයෙන් වැළකෙන අය සිහි කරලා දන් දෙන්න. බොරු කියන්නැති, කේලම් කියන්නැති, හිස් වචන කියන්නැති, පරුෂ වචන කියන්නැති අය සිහි කරලා දන් දෙන්න. ඊටපස්සෙ දැඩි ලෝභය නැති මෛත්‍රිය තියෙන සම්‍යදෘෂ්ටික අය සිහි කරලා දන් දෙන්න කිව්වා. ඊටපස්සෙ ඔය දානය දෙනකොට මිනිස්සු කියයි රජතුමා ඇමතිවරුන්ට, රාජකීය පිරිසට දැනුම් දීලා නෑ, ඇමතිවරුන්ට කියලා නෑ, ඊළඟට අහවලාට කිව්වෙ නෑ, අහවලාට කිව්වෙ නෑ කියලා. අනේ රජතුමනි ධර්මානුකූල නෑ මිනිස්සුන්ගේ කතා. ඔබ රාජකීය පිරිසගෙන් අනුමැතිය අරන්, ගෘහපති, ඇමති පිරිසගෙන්, බ්‍රාහ්මණ පිරිසගෙන්, ඊළඟට ගෘහපති පිරිසගෙන් අනුමැතිය අරන් ඔබ යාගය කරන්නෙ. ඒ නිසා මිනිස්සු ඒ වාගේ කතාවක් කිව්වොත් ඒක ඔබට අදාළ නෑ. එතකොට ඔබතුමා ළඟ අංග අටක් තියෙනවා. මම පුරෝහිතයෙක් විදියට අංග හතරක් තියෙනවා. සොළොස් පිරිකර හරි. ඒ නිසා යාග සම්පත් විදියට තියෙන්න ඕන සිත පහදවාගැනීම. ඔන්න දාන වස්තුව කියලා ඔය විදියට ලස්සනට දානයක් දුන්නා සත්තු මරන්නැතිව, අන් අය පීඩාවට පත් කරන්නැතිව, ඒ වගේම තමයි ඒ දානයට සම්බන්ධ වෙන මිනිස්සුන්ට පීඩා කරන් නෑ, කසයෙන් තලන් නෑ, මූණු හැඬු කඳුලින් මූණු තියන් නෑ, කැමති කෙනෙක් දානයට උදව් කරන්න, කැමැති

කෙනෙක් උදව් නොකර හිටපුවාවෙ. සතුටෙන් දානෙ දුන්නා. කිරි, දී ගිතෙල්, දැන් බලන්න තල තෙල්, වෙඬරු, දීකිරි, මීපැණි, සකුරු, කැඳ බත් වලින් දානෙ ඉවරයි. එතකොට දැන් මේකෙදි සවිස්තරව අපි කලින් කතා කලානෙ, කලින් දවසේ වැඩසටහනේදි. එතකොට පොඩ්ඩක් කල්පනා කරන්න මුළු ගොඩාක් මහන්සි වුනේ, අවුරුදු ගණන් මහන්සි වෙලා මිනිස්සු සංසිඳවන්න, හිත පහදවගන්න, පිරිස අතරින් අවුල් හැදෙන්නැති විදියට ඒවට තමයි මහන්සි වුනේ. දානෙ මෙනු එකට නෙවෙයි. අද කාලෙ මොකටද වැඩිපුර මහන්සි වෙන්නෙ. දානෙ මෙනු එකට. ඕනම කෙනෙක්ගෙ හිත රිද්දවලා වුනත් කමක් නෑ දානෙ මෙනු එක හොඳට හදන්න ඕන. ඊටපස්සෙ මේ පරිෂ්කාර නෑ. අනිත් අයගේ හිත් රිදවන ඒවා, ඒවා නෑ. තමන්ම දානෙට මිනිස්සු ගෙන්නගෙන ඇවිල්ලා කියනවා උන් මහලොකුවට දානෙට ගියා, එකෙක් ආවද ළුණු ගෙඩියක් ශුද්ධ කරන්න කියලා එයාලම දැන් හිත අපැහැදිලා. එහෙම නැත්නම් වැඩ කරන එක්කෙනාගෙන් මරවලා වැඩ ගන්නවා. එතකොට ඒවා දානෙ අපිරිසිදු වෙනවා. එතකොට බලන්න ඒ සත්පුරුෂ ලෝකයේ දානයක් දෙද්දි මිනිස්සු පෙළන් නෑ, කැමති අය උදව් කරපුවාවෙ. කැමැති අය උදව් නොකරපුවාවෙ. දානෙකට ළුණු ගෙඩියක් ශුද්ධ කරන්න වුනත් පින්වතුනි පිනක් තියෙන්න ඕන. පින නැති එක්කෙනාට හිත දෙන් නෑ. ඒවා කරන්න බෑ හිතෙනවා. ඒක ඔබේ වරදක් නෙවෙයි, ඔවුන්ගේ වරදක්. ඊළඟට තමයි අපි දානයක් දෙද්දි කුසල් තියෙන අය සිහි කරලා දන්දෙන්න ඕන. මේ සූත්‍රයෙන් ගන්න තියෙන්නෙ ඒවා. සිහි කරන්න ඕන, දැන් දන්සැල් කියන්නෙ, ඒක දන්සැලක්නෙ. ඔන්න පොසොන් එකට දන්සැල් දෙනවා ඔය දන්සැලට හත්දීපංකරේ මිනිස්සු එනවා. එක එක චරිත එනවා. ඊටපස්සෙ එක එක විගඩං තියෙනවා. එතකොට දන් දෙන කෙනා එතනදි සිහි කරන්න ඕන මේ දන් ගන්න මිනිස්සු අතර සත්තු නොමරණ, හොරකම් නොකරන, වැරදි කාම සේවනය නොකරන, බොරු නොකියන, මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කරන සිල්වතුන් උදෙසා මේ දානය වේවා කියන අදහසින් දන් දෙන්න ඕන. අනිත් අය ආවට අපිට අදාල නෑ, මොකද සත්තු මරණ කෙනෙක් එතෙන්ට ආවොත් ඒ පාපය එයාට මිසක්කා දන් දෙන එක්කෙනාට නෙවෙයි. හොරකම් කරන මිනිහෙක් දන්සැලට ආවා කියලා ඒ පාපය ඒ මනුස්සයාට මිසක්කා දන් දෙන මනුස්සයාට නෙවෙයි. ඊළඟට තමයි හිත රැකගන්න ඕන. මේ පුරෝහිතතුමා ඒ හිත රකින හැටි, ඒ මහ විජිත රජ්ජුරුවන්ගෙ, ඊටපස්සෙ බමුණු ගෘහපතිවරු, රාජකීය පිරිස, ඇමති පිරිස, බ්‍රාහ්මණ පිරිස, ගෘහපති පිරිස අර

දන් ශාලාවේ හතර පැත්තෙන් එයාලත් දන් දෙන්න ගත්තා. ඔය විදියට මහවිජිත රජතුමන්ගේ රාජ්‍යයේ ඉතාමත් ලස්සනට හොඳට ලොකු යාගයක් සිද්ධ වුනා. සත්තු මැරුවෙ නෑ, හොරකම් කලේ නෑ, ඒ දන්සැලේ දීලා තියෙන්නෙ තලතෙල්, වෙඬරු, දීකිරි, මීපැණි, හකුරු, කැඳ, බත් ඕවා. එතකොට ලොකුවට ගත්තෙ හිත රැකගන්න එකට. හිත අපහදවගන්නැතිව දෙන එකට. දැන් අපේ මෙනුවල ලොකුවට තියෙනවා ව්‍යංජන ගත්තොත් ව්‍යංජන තුන්සිය හැට පහයි. බත් වර්ග දහයයි. ඩෙසර්ට් වෙනම. ඊටපස්සෙ තව තව ඒවා. ඒවා දකිනකොටම බඩ පිරෙනවා. අපිටත් වෙලාවකට හිතෙනවා එක කටකින් මෙච්චර ගොඩක් කොහොමද කන්නෙ කියලා. ඉතින් ඒ වගේ. නමුත් එච්චර දාන උපකරණ ගැන එච්චර හිතුවා කියලා, දාන ද්‍රව්‍ය, මිනිස්සුන්ගේ හිත් රිද්දන්නැතිව දෙන එක, තුන්සිත පහදවාගෙන දෙන එක ගැන, ඒවා ගැන හිතන් නෑ. හරී අභාග්‍යයක් ඉතින්. එච්චර ලොකු සම්පත්තියක් ලැබිලා තියෙද්දන් ඒවා නැති කරගන්න එපා. මේවා තේරුම්ගන්න මේ ධර්මය අහන ගමන්. ඉතින් මේ විස්තරය ඔහොම කියනකොට බමුනු පිරිස ඉතාමත් සතුටට පත්වුනා, මේකනම් පුදුම දානයක් කියලා. ඉතින් කූටදන්ත බ්‍රාහ්මණයා බුදුරජාණන් වහන්සේ දිහා බලාගෙන හිටියා. බමුණෝ ඇහුවා ඇයි ඔබ අනුමෝදන් වෙන් නැද්ද. භාග්‍යවතුන් වහන්සේගේ අනුශාසනාවක් අනුමෝදන් නොවුණොත් හිස හත්කඩකට පැළෙයි කිව්වා. එහෙනම් හිතන්න බුදුරජාණන් වහන්සේගේ සුභාෂිත බණ පද අපි ධර්ම දේශනාවලදි කරන්නෙ. අපි සූත්‍ර දේශනා වලින් දහම් දේශනා කරද්දින් අපිට ගරහනවා. එතකොට හිතාගෙන ඉන්නෙ අපිට ගරහනවා, මේ හාමුදුරුවන්ට ගරහන්න ඕන කියලා. නමුත් එතනින් ඇහුවෙ බණ පදය, බුදුරජාණන් වහන්සේගේ සුභාෂිත වචනය අනුමෝදන් වුන් නෑ, මැරුණට පස්සෙ කොහෙ යයිද. කියනවා භාග්‍යවතුන් වහන්සේගේ සුභාෂිත බණ පදය ඉදිරියේ අපි අනුමෝදන් නොවුනොත් හිස හත්කඩකට පැළෙයි. මං කල්පනා කලේ ඒ මහා විජිත රජ්ජුරුවන්ගේ දානය ගැන, මෙසේ වුනා, මෙසේ වුනා, මෙසේ වුනා කියලා වදාළේ. මෙහෙ තිබ්බලු, මෙහෙම වුනාලු කියලා වදාළේ නෑ. මට හිතෙන්නෙ මහා විජිත රජ්ජුරුවො හෝ පුරෝහිතයන් අනිවාර්යයෙන් ශ්‍රමණ භවත් ගෞතමයන් වෙන්න ඕන ඒ කාලෙ. භාග්‍යවතුන් වහන්සේ වදාළා ඔබ උපකල්පනයෙන් කිව්වෙ. ඒ කාලෙ උපදෙස් දීපු බ්‍රාහ්මණයා වෙලා හිටියෙ මම කියලා වදාළා. ඉතින් ඒ වෙලාවේ, බුදුරජාණන් වහන්සේ ඔය විදියට දේශනා කලාට පස්සෙ කූටදන්ත බ්‍රාහ්මණයා අහනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ත්‍රිවිධ සම්පත් සහිතව පරිෂ්කාර

දාසයකින් යුක්තව ඔය වාගේ මහා දානයක් දෙනකොට ගොඩාක් මහන්සි වෙන්න එපැයි. එච්චර මහන්සියක් නැතිව ඔයිටත් වැඩිය ලොකු පිනක් කරගන්න පුලුවන් දානයක් නැද්ද. බුදුරජාණන් වහන්සේ වදාළා, තියෙනවා. මොකක්ද ඒ? කියනවා පින්වත් බ්‍රාහ්මණය, සිල්වත් පැවිදි උතුමන් උදෙසා කුල පරම්පරාවෙන් දෙන දන්වැටක් තියෙනවා නම් පින්වත් බ්‍රාහ්මණය, අන්න ඒ දානය කලින් කියපු ත්‍රිවිධ යාග සම්පත් වලටත් වඩා, යාග පිරිකර දාසයටත් වඩා වැඩ කටයුතු අඩු, උත්සාහය අඩු නමුත් මහත් ඵල, මහානිසංස පිනක් කිව්වා. පැවිදි උතුමන්ට දන් දෙන එක, සිල්වත්. ඊටපස්සෙ අහනවා ඇයි භාග්‍යවතුන් වහන්ස ත්‍රිවිධ සම්පත් වලටත් වඩා පරිෂ්කාර දාසයකින් යුතු ඒ මහා දානයට වඩා පැවිදි උතුමන්ට දෙන දානය මහත්ඵල මහානිසංස ඇයි. කිව්වා, පින්වත්, හරී ලස්සන කාරණාවක්, සාංඝික දානයෙයි දන්සල් වලයි වෙනස හොයාගන්න, පුදුම කාරණාවක් මේ තියෙන්නෙ. කියනවා බ්‍රාහ්මණය, ඔය යාගය කලානෙ. ඒ කියන්නෙ ත්‍රිවිධ සම්පත් ඇතිව, මහා පිරිසකට ඔය දන් දුන්නානෙ. ඔතෙන්ට රහතන් වහන්සේලා වඩින්නෙ නෑ. ගුණවතුන් වඩින්නෙ නෑ, ඉන්ද්‍රිය සංවරයෙන් යුතු අය ඔයවාගෙ දන්සැල් වලට එන් නෑ. ඒකට හේතුව මොකක්ද දන්නවද, ඔය යාග වලදී පෝලිමේ වරෙල්ලා, පෝලිමේ වරෙල්ලා, පෝලිමේ වරෙල්ලා කියලා මිනිස්සුන්ට ගහලා තල්ලු කරලා තෙරපිලා තමයි දන්සල දෙන්නෙ. දැන් මවාගන්නකොට දන්සැල්. එතකොට ඔය වාගේ තැන්වලට සංවර, හිත සන්සිඳවාගත්තු, ගුණවත් අය එන්නෑ කිව්වා ඔය පෝලිම් වල තෙරපි තෙරපි, අනිත් මිනිස්සු තල්ලු කරනවා, ගහනවා, කකුල් පාගනවා, ඔය මැද්දට එන් නෑ කිව්වා. රහතන් වහන්සේලා හිටියා නම් රහතන් වහන්සේලා ඔය තැන්වලට වඩින් නෑ කිව්වා. ඒත් පැවිදි උතුමන් උදෙසා දානයක් දෙද්දි උන්වහන්සේලා වෙනම ඒ සඳහා එනවා කිව්වා. එතකොට ඒ දානය මහත්ඵලයි මහානිසංසයි කිව්වා. උතුම් ගුණවත් අය එනවා. පුදුම සහගතයි. හොඳට බලන්න, ඇත්තටම පෝලිම් වල තෙරපි තෙරපි දන්සැල් දෙනකොට කොහේහරි බයික් වලින් රවුමක් යන අයනෙ ලස්සනට පෝලිමට සෙට් වෙන්නෙ ගාණට. ආරණ්‍යවාසී සඟරුවනක් හෝ සිල්ගුණදම් වඩන පිරිසක් හෝ දහම දකින දන්න කියන සිතන පතන පිරිසක් හෝ ගොඩාක් සම්බන්ධ වෙනවා අඩුයි. මේ පින ගැන කියන්නෙ. දන්සැල් හොඳ නෑ කියලා නෙවෙයි, වරදවා තේරුම් ගන්න එපා. පින මහත්ඵලයි, මහානිසංසයි සංඝයා සිහි කරගෙන දෙනකොට. ඊටපස්සෙ අහනවා ස්වාමීනී හරි ඔය යාග, ත්‍රිවිධ යාග සම්පත්, සොලොස් පිරිකර සහිත මහා විජිත රජ්ජුරුවන්ගේ මහා දානෙ

තියෙන්නෙ, ඒ දානෙයි, පැවිදි උතුමන්ට දෙන දානෙයි, ඔය දාන දෙකට වඩා මහත්ඵල මහානිසංස දානයක් තියෙනවාද වැඩ කටයුතු අඩු. එකපාර කරගන්න පුලුවන් එකක්. මොකද දැන් මේ දන් වැටත් දිගටම කරගෙන යනවානෙ, සංඝයාට දන් දෙන එකත්, සලාක දානනෙ. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා තියෙනවා එහෙම පිනක්. ස්වාමීනී මොකක්ද ඒ. ඒ තමයි ත්‍රිවිධ යාග සම්පත්, සොළොස් පිරිකර, සිල්වතුන්ට නිති දෙන දන්වැටට වඩා මහත්ඵලයි මහානිසංසයි බ්‍රාහ්මණය යම් කෙනෙක් සිව් දිශාවෙන් වඩින සංඝයා උදෙසා විහාරයක් කරවනවා නම්, මහත්ඵලයි, මහානිසංසයි. සිව් දිශාවෙන් වඩින සංඝයාට සෙනසුන් කරවනවානම් හිතන්නකො කොහොම පිනක්ද කියලා. එතකොට ත්‍රිවිධ සම්පත්, සොළොස් පිරිකර සහිත විජිත රජ්ජුරුවන්ගේ මහා දානයට වඩා නිති සිල්වතුන්ට දෙන දන්වැටට වඩා විහාර පූජාවටත් වඩා කටයුතු අඩු මහත්ඵල මහානිසංස සිද්ධ වෙන මහා පිනක් තව තියෙනවාද. භාග්‍යවතුන් වහන්සේ වදාළා තියෙනවා. මොකක්ද ඒ පින, ස්වාමීනී ඒ මොකක්ද. ඊටපස්සෙ කිව්වා ඔන්න බලන්න. පින්වත් බ්‍රාහ්මණය යම් කෙනෙක් පැහැදුනු සිතින් යුතුව බුදුරජාණන් වහන්සේ සරණ යනවා නම්, ශ්‍රී සද්ධර්මය සරණ යනවා නම්, ආර්ය මහා සංඝරත්නය සරණ යනවා නම් පින්වත් බ්‍රාහ්මණය ඔය ත්‍රිවිධ යාග සම්පත් වලට වඩා, යාග පිරිකර දහසයට වඩා, කුලපරම්පරාවෙන් එන නිත්‍ය දන් වැටට වඩා, විහාර පූජාවට වඩා, වැඩ කටයුතු අඩු උත්සාහ අඩු නමුත් මහත් ඵල ඇති මහානිසංස ඇති ඒ යාගය නම් එයයි. පුදුම සහගතයි. එහෙනම් මේ දහම් වැඩසටහන, මට මතක හැටියට අද අපි අසූ දෙවෙනි දහම් වැඩසටහන කරන්නෙ. ඒ දහම් වැඩසටහන් අසූ දෙකේදිම බුදුන් සරණ පලයල්ලා, ධර්මය සරණ පලයල්ලා, සංඝයා සරණ පලයල්ලා කියන වචනය කීගමනක් මම කිව්වද. මේක හරියට ඔබ සිත පහදවාගෙන මේ ධර්මයෙන් සිත පිනා යන විදියට, කය පිනා යන විදියට, මනසට දැනෙන විදියට හිත බොහෝ සන්තෝෂයට පත් කරගෙන මං බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ධර්මය සරණ යනවා, සංඝයා සරණ යනවා කියලා අවංකවම තෙරුවන් සරණ ගියා නම් ත්‍රිවිධ යාග සම්පත් සහිත සොළොස් පිරිකර සහිත අර මහා විජිත රජ්ජුරුවන්ගේ දානයට වඩා නිරන්තරයෙන් රහතුන්ට දෙන දන්වැටට වඩා, රහතුන් වැඩ සිටින්න කරපු මහා විහාරයකටත් වඩා පින් රැස් වෙනවා, තෙරුවන් සරණ ගියොත්. මේ දේශනා කරන්නෙ ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ. ඨානංච ඨානතෝ අට්ඨානංච අට්ඨානතෝ යථාභූතං පජානාති, සිදුවිය හැකි

දේ නොහැකි දේ දන්නේ දන්නා උත්තමයා මේ දේශනා කරන්නෙ. අතීත අනාගතා පච්චුප්පන්නානං කම්ම සමාදානානං හේතු සො ඨාන සො විපාකං පටිජානාති. අතීත අනාගත වර්තමාන කර්මයන්හි හේතු වශයෙන් තැන් වශයෙන් කර්ම විපාක පිළිබඳව ඥාණය තියෙන්නෙ බුදුරජාණන් වහන්සේට. ඒ කර්ම විපාක ඥාණයෙන් බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ. සබ්බත්ථ ගාමිණී පටිපදං යථාභූතං පජානාති, ඒ ගමන් එක එක පාරවල්, ප්‍රතිපදා බුදුරජාණන් වහන්සේ දන්නවා. මේ සියලු දන් අභිබවා බබළනවානෙ තෙරුවන් සරණ යන එක. ඇත්තටම ගත්තොත් මෑත යුගයේ බුදුරජාණන් වහන්සේ සරණ පලයං, ධර්මය සරණ පලයං, සංඝයා සරණ පලයං කියන ඒ ඝෝෂාව මේ ලෝකෙ ඉපැද්දුවෙ ඒකාන්තයෙන් සත්‍යයක්, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ. පුදුම සහතයි. මොකද ධර්මය ගැඹුරින් කියන, ධර්මය කියන්න උත්සාහ කරන අයත් එකපාරම කියන්න ගත්තෙ නිවන් දැකපල්ලා, නිවන් දැකපල්ලා, සතර සතිපට්ඨානය වඩපල්ලා කියලා තමයි පටන් ගත්තෙ. හැබැයි තිසරණය නෑ. ඉස්සර හාමුදුරුවරුත් බණ කියද්දි පන්සිල් රැකපල්ලා, පන්සිල් රැකපල්ලා කිව්වා මිසක්කා තිසරණය කිව්වෙ නෑ. ඒ නිසා ඒකාන්ත සත්‍යයක් මේක. ඒ නිසා තමයි දන්නා නිසා, මිනිස්සුන්ට මෙච්චර ආනුභාව සම්පන්න පින් උපද්දවන්න ඕන නිසා තමයි තෙරුවන් සරණ යන හැටි කියලා දෙන මේ දහම් වැඩසටහන ලොකු ස්වාමීන් වහන්සේම මාව මේකට යොමු කෙරෙව්වෙ, මට අනුශාසනා කලේ. අදටත් මෙහෙම කරන්න කියලා අසිරිමත් සම්බුදු සරණ. උන්වහන්සේගේ කරුණාව, දැක්ම, තේරුම, මේවගෙනුත් තේරුම් ගන්න ලොකු ස්වාමීන් වහන්සේට තියෙන දහම් වැටහීම අන් අයට වඩා ප්‍රායෝගිකයි, ශ්‍රද්ධාවන්තයි, බුදුරජාණන් වහන්සේගේ වචනෙට එකඟයි. ඒ නිසා තෙරුවන් සරණ යන තැනට තමයි ශ්‍රාවකයො ඉස්සෙල්ලාම එන්න ඕන. ඔවුන්ගේ අතින් ගොඩාක් පින් කෙරෙනවා. ඔවුන්ගේ අතින් ගොඩාක් කුසල් කෙරෙනවා. ඔවුන් බොහෝ පින් රැස් කරගන්නවා. ඉස්සර හිටියානෙ දුගියෙක්. ඒ දුගියා තෙරුවන් සරණ ගියා. මිනිස්සුන්ගේ ඉඳුල් කකා ජීවත් වෙන්නෙ. ඊටපස්සෙ මෙයා කය බිඳිලා මරණින් මත්තෙ දෙවියන් අතර ඉපදුනා. අප්පේ බලන්නෙපැයි, සියලු දෙවියන් අතර අභිබවා ගිය දිව්‍ය තේජසින් බබළනවා. කිසි කෙනෙකුට කිට්ටු වෙන්න බෑ ආනුභාවය. එතකොට මෙයාගේ පෙර ජීවිතේ දන්න දෙව්වරු කුටු කුටු ගාන්න ගත්තා අප්පේ බලාපල්ලාකො මේක, මනුස්ස ලෝකෙ ඉන්න කාලෙ අනිත් අයගෙන් ඉඳුල් කකා හිටියෙ, දැන් අපිටවත් කිට්ටු වෙන්න බෑ, සක්දෙව්ඳු කිව්වා අවමන් කරන්න එපා. ඔය ඇත්තා ඉඳුල් කකා

හිටියා තමයි, නමුත් බුදුරජාණන් වහන්සේ සරණ ගියා, ධර්මය සරණ ගියා, සංඝරත්නය සරණ ගියා. බලන්න කිච්චා ආනුභාවය. මේ ගොඩාක් දෙවිවරු කලින් ඉපදිලා තියෙන අය. ඒ අය තෙරුවන් සරණ ගිහිල්ලා නෙවෙයි ඔවුන් කරගත්තු කුසල් බලයෙන් ඉපදුනේ. නමුත් දැන් දැන් ඉපදෙන දෙවිවරු බුදුන් සරණ ගිය නිසා, ධර්මය සරණ ගිය නිසා, සංඝ රත්නය සරණ ගිය නිසා, දැන් දැන් ඉපදෙන දෙවිවරු අනිත් අයට වඩා ආනුභාවය වැඩියි, සක්දෙවිඳු විස්තර කරලා දුන්නා. ඉතින් ඒ නිසා තෙරුවන් සරණ යන එකේ වටිනාකම බලන්න, සරණ. ඊටපස්සෙ නිතර කරදරයකදී සිහි කරන්න පුලුවන් බව. දැන් ඔයාලා දන්නවද දන්නෑ ළඟදින් ඔය යාපනේ විශ්වවිද්‍යාලෙ ගුරුවරු දෙන්නෙක් වෙහෙර වැඳලා එනකොට ඉස්සරහින් අලියෙක් හම්බවෙලා. ඊටපස්සෙ ආයෙ කතා කරන්න හිතන්න වෙලාවක් නෑ, එකපාරම ඉස්සරහින් හිටපු ගුරුතුමා - අසපුවෙන් ධර්මය අහන කෙනෙක් - එතුමා එකපාරම අලියා දැක්ක ගමන් අංගුලිමාල කියලා කෑගැහුවා. මේ ඉස්සරහ අලියා. අලියා එහෙන් දැන් හොඬවැල උස්සගෙන ආපු කුලප්පුවෙච්චි අලියා. ඊටපස්සෙ අලියා මොකද වුනේ. මෙයාව මංඇරියා පිටිපස්සෙන් හිටපු අනිත් එක්කෙනා, මොනවහරි සිහි කරගන්නැතිව ඉන්න ඇති, ඉතින් යන ගමන් එයාට ගහලා එයා නැතිවුනා. නමුත් ඉස්සරහින් හිටපු එක්කෙනා මං ඇරියා වචනෙට. අංගුලිමාල කියන වචනෙට. දැන් තවත් කෙනෙකුට වුනා නම් දෙයියනේ කියයි, අයියෝ කියයි, අම්මෝ කියයි, දැක්කද සරණ හිතට ආවට පස්සෙ රහතන් වහන්සේ එනවා ඉස්සරහට. මේ නිසා දැන් දීඝවාපී සෑයේ හුණු පිරියම් කර කර හිටපු තෙරුන් වහන්සේ නමක් උඩින් වැටුනා. වැටෙන ගමන් ධජග්ග කිව්වා. සෑයෙන් ගල් දෙකක් මතුවුනා. කකුල් දෙක හිට්ටා ඒකට සෑයෙ. සම්පූර්ණයෙන් පිරිත කිව්වෙ නෑ නම විතරයි. නිතර තමන් බුදුරජානන් වහන්සේ සරණ ගියා නම්, ධර්මය සරණ ගියා නම්, සංඝරත්නය සරණ ගියා නම් කොච්චර පිහිටද. මට ලොකු අමනුස්ස උවදුරක් තියෙන කෙනෙක් හිටියා, එයාට රාත්‍රී කාලයේ යක්ෂයෙක් ඇවිල්ලා එළිවෙනකල් බෙල්ල මිරිකාගෙන ඉන්නවා. ඊටපස්සෙ ඒ කෙනාට කොහොමහරි අවස්ථාවක් ඇවිල්ලා අංගුලිමාල මහරහතන් වහන්සේගේ ධාතූන් වහන්සේලා වඩම්මපු දවසක මොහොතක් මුතුකුඩය අල්ලගෙන යන්න ලැබිලා. ඊටපස්සෙ ළඟදි දවසක ආයෙ අර යක්ෂයා ඇවිල්ලා බෙල්ල මිරිකලා, මිරිකනකොටම අංගුලිමාල මහරහතන් වහන්සේගේ ධාතූන් වහන්සේට මුතුකුඩය අල්ලපු එක සිහිවෙලා, යක්ෂයා උණුවෙලා ගව්ගාණක් විසි වුනා, අදටත් නෑ. සරණ මේ. අද කාලෙ මොනවාහරි කරදරයක් වුනාම දරුවන්ට

මොන කලදසාවද, නෝනට මොන කලදසාවද, මහත්තයට මොන කලදසාවද, ෆිනෑන්ස් ගෙවන්නේ කොහොමද, ණය ගෙවන්නේ කොහොමද, ඕවා නේද කරදරයක් වෙච්චි ගමන් ඔළුවට එන්නෙ. ඕවනෙ කරදරයක් වෙච්චි ගමන් ඔළුවට එන්නෙ. කෝ බුදුන් සරණ. කෝ ශ්‍රී සද්ධර්මයේ සරණ. කෝ ආර්ය මහා සංඝරත්නයේ සරණ. ත්‍රිවිධ සරණ කෝ. ඒ නිසා අපේ දුර්වලතාවය තේරුම් ගන්න ඕන.නිකං බණ කියන්නං වාලෙ කියන එකක් නෙවෙයි මේ. තථාගතයන් වහන්සේගේ උතුම් ශ්‍රී සද්ධර්මය, පොඩ්ඩක් කල්පනා කරලා බලන්න. කොච්චර මහන්සියක් ගන්නවද මේ කියලා. කොච්චර වෙහෙසක් ගන්නවද කියලා පොඩ්ඩක් කල්පනා කරන්න. බුදුන් සරණ පලයන්, ධර්මය සරණ පලයන්, සංඝ රත්නය සරණ පලයන් කියලා මේ බුදුරජාණන් වහන්සේගේ පණිවිඩය ඔබට ගේන්න. යම්කිසි කෙනෙක් බුදුරජාණන් වහන්සේ අවංකවම සරණ ගියොත් ධර්මය අවංකවම සරණ ගියොත්, සංඝ රත්නය අවංකවම සරණ ගියොත් ත්‍රිවිධ සම්පත් සහිතව, සොළොස් පිරිකර සහිතව මහා විජිත රජ්ජුරුවො කරපු යාගයට වඩා, නිති රහතුන්ට දෙන දන්වැටටත් වඩා, රහතුන්ට වාසය කරන්න වෙහෙරක් කරනවාට වඩා, තෙරුවන් සරණ යන එකේ විපාක මහත්ඵල මහානිසංසයි. ඊටපස්සෙ කූටදන්ත බ්‍රාහ්මණයා අහනවා ස්වාමීනී, ඔය මහා යාගයටත්, නිති දන්වැටටත්, විහාර පූජාවටත්, තෙරුවන් සරණ යනවාටත් වැඩිය මහත්ඵල මහානිසංස පහසුවෙන් කරගන්න පුලුවන් මහත්ඵල මහානිසංස පිනක් තියෙයිද, ඊටපස්සෙ කියනවා, තියෙනවා, ඒ තමයි මොකක්ද. කියනවා බ්‍රාහ්මණය යම්කිසි කෙනෙක් පැහැදුනු සිතින් යුතුව තිසරණයේ පිහිටා වචනයක් තියෙනවා, සරණේ පිහිටා, ප්‍රාණඝාතයෙන් වැළකී සිටීද, සොරකමින් වැළකී සිටීද, වැරදි කාම සේවනයෙන් වැළකී සිටීද, බොරු කීමෙන් වැළකී සිටීද, මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චියෙන් වැළකී සිටීද ඒ ශික්ෂාපද සමාදන් වෙනවා නම් මේ සිල් පද පහ සමාදන් වෙනවා නම් මේ වනාහි ත්‍රිවිධ යාග සම්පත් වලට වඩා යාග පිරිකර දාසයට වඩා, කුල පරම්පරාවෙන් එන නිත්‍ය දන්වැටට වඩා, විහාර පූජාවට වඩා, තෙරුවන් සරණ යනවාට වඩා වැඩ කටයුතු අඩු උත්සාහයෙන් අඩු නමුත් මහත්ඵල මහානිසංස ඇති ඒ යාගයයි. මතක තියාගන්න දැන් ඔය වැඩ කටයුතු අඩු වෙහෙස අඩු එකක්. තෙරුවන් සරණ යන එක මීට වැඩිය අමාරුයි. නමුත් තෙරුවන් සරණ ගිය කෙනා පන්සිල් සමාදන් වුනොත් මෙතන තියෙන්නෙ මේ බලන්න ලස්සන වචනයක් තියෙනවා, ප්‍රාණඝාතයෙන් වැළකීම නම් වූ, සොරකමින් වැළකීම නම් වූ, බොරුවෙන් වැළකීම නම් වූ, මත්පැන් මත්ද්‍රව්‍ය ඒ කියන්නෙ පන්සිල් පද පහ

කියලා නම් වූ ශික්ෂාවක් ද සමාදන් වෙනවා නම්, නොකඩවා ආරක්ෂා කරනවා කියලා නෑ, තැන් තැන් වල කැඩෙන්න පුලුවන්, ආයෙ සමාදන් වෙන්න පුලුවන්, නමුත් ඒ සිල් පද පහ සමාදන් වෙලා සිහියෙන් ඉන්නවා. කැඩෙන්න පුලුවන්, ඒත් ආයෙ සමාදන් වෙනවා. කොහොමහරි රකින්න උත්සාහ කරනවා. එය මහත්ඵලයි, මහානිසංසයි. තෙරුවන් සරණ යනවාටත් වඩා. ඔන්න ඕක තේරුම් ගන්න බැරිවුනා ගොඩාක් අයට. ගොඩාක් අය කිව්වෙ පන්සිල් රැකපල්ලා කියලා කිව්වා මිසක්කා තිසරණය ගැන කිව්වෙ නෑ, ඔක්කෝටම අමතක වුනා බුද්ධං සරණං ගච්ඡාමි, ධම්මං සරණං ගච්ඡාමි, සංඝං සරණං ගච්ඡාමි, දුතියම්පි බුද්ධං සරණං ගච්ඡාමි, දුතියම්පි ධම්මං සරණං ගච්ඡාමි, දුතියම්පි සංඝං සරණං ගච්ඡාමි, තතියම්පි බුද්ධං සරණං ගච්ඡාමි, තතියම්පි ධම්මං සරණං ගච්ඡාමි, තතියම්පි සංඝං සරණං ගච්ඡාමි කියලා තෙරුවන් සරණ යන එක තුන් පාරක් කියලා තමයි පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාදියාමි කියලා එකපාරක් කියන්නෙ. අමතක වුනා ඇයි එහෙම කියන්නෙ කියලා. ඇයි එහෙම කියන්නෙ, එක පාරක් පාණාතිපාතා වේරමණී සික්ඛාපදං සමාධියාමි කියලා මේක රකින්න මේක මහත්ඵල මහානිසංස වෙන්නෙ තෙරුවන් සරණ හරියට පිහිටියොත්. තෙරුවන් සරණ නැතිව වෙනත් ආගම් වල ඉන්න පුලුවන් සත්තු මරන් නැති අය, හොරකම් කරන්නැති අය, වැරදි කාමසේවනය කරන්නැති අය, බොරු කියන් නැති අය, මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කරන්නැති අය වෙනත් ආගම් වලත් ඉන්න පුලුවන්. මුළු ජීවිත කාලෙම. නමුත් තෙරුවන් සරණ ගිය ශ්‍රාවකයා එක දවසක් සිල් රකින එකේ පිනෙන් මුළු ජීවිත කාලෙම ඔවුන් රකින සීලය එක දවසක් තෙරුවන් සරණ ගිහිල්ලා රකින පඤ්චසීලයෙන් ලක්ෂ කෝටිගාණකින් එක පංගුවක් තරම් වත් වටින් නෑ. එහෙනම් හිතන්න තෙරුවන් සරණ ගිහිල්ලා පන්සිල් රකින එකේ වෙනස. බුදුරජාණන් වහන්සේට වරදින්න විදියක් නෑ, බුදුරජාණන් වහන්සේ සියල්ල දන්නේ දකින්නෙ. අපි ශ්‍රාවකයො. ඒ නිසා මේ කරුණු කාරණා, පන්සිල් ගැන කිව්වෙ. සාමණේර දස සීලය ගැන නෙවෙයි, උපසම්පදා සීලය ගැන නෙවෙයි, පන්සිල් මෙතරම් නම් පැවිදි ජීවිතය ගැන කවර කතාද. මහත්ඵල මහානිසංසයි. භවත් ගෞතමයන් වහන්ස, ඔය ත්‍රිවිධ යාග සම්පත් වලටත් වඩා, යාග පිරිකර දාසයටත් වඩා, කුල පරම්පරාවෙන් එන මේ නිත්‍ය දන් වැටටත් වඩා, මේ විහාර පූජාවටත් වඩා, තෙරුවන් සරණ යෑමටත් වඩා, සරණේ පිහිටා සිල් පද රැකීමටත් වඩා වැඩ කටයුතු අඩු, උත්සාහය අඩු නමුත් මහත්ඵල මහානිසංස අන්‍ය වූ යාගයක් තියෙනවාද. පින්වත් බ්‍රාහ්මණය,

තියෙනවා. කුමක්ද ස්වාමීනී ඒ? ඒක නම් මේ වෙනස් කිව්වා. කොහොමද. ලෝකයේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙනවා. පහළ වෙලා උන්වහන්සේ නවඅරහාදී බුදු ගුණයෙන් යුක්තව, මුල මැද අග පිරිසිදු වූ ධර්මය දේශනා කරනවා. යම්කිසි ගෘහපතියෙක් හෝ ගෘහපති පුත්‍රයෙක් මොනම හරි කුලයක ඔහු බණ අහනවා. ඒ ධර්මය ඇහුවට පස්සෙ එයාගේ හිත ගොඩාක් පැහැදෙනවා තුණුරුවන් කෙරෙහි. ශ්‍රද්ධාව ලබනවා. සද්ධං පටිලභත්වා. ශ්‍රද්ධාව ලැබුනට පස්සෙ එයාට හිතෙනවා නිවන් මාර්ගය පුරුදු කරන්න අමාරුයි ගිහි ජීවිතේ කෙලෙස් වැඩියි. අහස වගේ මහණ කම. මටත් පැවිදි වෙන්න ඇත්නම්. අල්ප වූ ද මහත් වූ ද භව භෝග සම්පත් අල්ප වූද මහත් වූද ඥාති පිරිවර අත්හරිනවා. අත්හැරලා කෙස් රැවුල් බාලා ඔහු මහණ වෙනවා. මහණ වෙලා ආර්ය වූ සීලස්කන්ධයෙන් යුක්ත වෙනවා. ආර්ය වූ ඉන්ද්‍රිය සංවරයෙන් යුක්ත වෙනවා. ලද දෙයින් සතුටු වෙනවා. ඒ වගේම මේ විදියට යුක්ත වෙලා සිහි නුවණින් යුක්ත වෙනවා. ලද දෙයින් සතුටු වෙනවා. ගුණධර්ම පුරුදු කරනවා. ඉතින් පින්වත් බ්‍රාහ්මණය, මේ වෙලාවේ බුදුරජාණන් වහන්සෙ සිල් පද විස්තර කරනවා. දැන් මේ සූත්‍ර දේශනාවේ චූල සීල, මජ්ඣිම සීල, මහා සීල කියලා සංඝයා ආරක්ෂා කරන සිල් පද, ඊටපස්සෙ සම්මා ආජීවයෙන් යුක්ත වෙනහැටි, ඊටපස්සෙ සංඝයාගේ පාරිශුද්ධ සීලය විස්තර කරනවා. විස්තර කරලා බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මේ විදියට සීලයෙන් යුක්ත වෙලා ඔහු පුරුදු වෙනවා ඉන්ද්‍රිය සංවරයට. ඉන්ද්‍රිය සංවරය කියලා කියන්නෙ ඇසින් රූපයක් බලලා ඒ රූපය නිමිති ගන්නෑ හිත ඇතුලේ රාගයෙන් ඇවිස්සෙනවා නම්, ද්වේෂයෙන් ඇවිස්සෙනවා නම්, අකුසල් වලින් හිත ඇතුල කලකොලොප්පං වෙනවා නම් අන්න ඒ වාගේ රූප ගැන නිමිත්තක් වත් නිමිති මාත්‍රයක්වත් ගන්නෑ. කණෙන් ශබ්ද අහල ඒ ශබ්ද ගැන ඊළඟට, නාසයෙන් ගඳ සුවඳ විඳලා, දිවෙන් රසය, කයෙන් පහස, සිතින් අරමුණු, මේ විදියට අරන් හිත ඇවිස්සෙනවා නම් රාග ද්වේෂයෙන් අවිද්‍යාවෙන් දෝමනස්සයෙන් ඒ වගේ දේවල් ගන්නැතිව ඇස සංවර කරගන්නවා. කණ, නාසය, දිව, කය, මනස. ඉතින් බ්‍රාහ්මණය භික්ෂුව ලද දෙයින් සතුටු වෙනවා, පිණ්ඩපාතයෙන්, සේනාසනයෙන්, බෙත්හේතෙන්, ලැබුනු දේකින් සතුටු වෙනවා. ඒ වගේම භික්ෂුව මේ විදියට සීලයෙන් සමන්විත වෙලා, ඉන්ද්‍රිය සංවරයෙන් සමන්විත වෙලා, ලද දෙයින් සතුටු වෙලා ආන්න ඊටපස්සෙ විවේක සෙනසුන් වල වාසය කරනවා. පිළිවෙලක් මේක. විවේක සෙනසුන් වල වාසය කරලා, පිණ්ඩපාතයෙන් පස්සෙ හිත දුරු කරනවා පඤ්චනීවරණ වලින් හිත

සෝදනවා. කාමච්ඡන්ද, ව්‍යාපාද, ථිනමිද්ධ, උද්ධච්චකුක්කුච්ච, විචිකිච්ඡා. ඉතින් මේ විදියට විවේකයෙන් බණ භාවනා කරමින්, සක්මන් කරමින්, භාවනා කරමින්, නීවරණ දුරු කරනකොට හිතෙන් කාමරාගය දුරු වෙවී යනවා. ව්‍යාපාදය දුරු වෙවි යනවා. ථිනමිද්ධය දුරුවෙවී යනවා. උද්ධච්චකුක්කුච්චය දුරු වෙවී යනවා. විචිකිච්ඡාව දුරු වෙවී යනවා. එතකොට එයාට දැනෙනවා මේ වගේ ඒ පඤ්ච නීවරණ හිතින් දුරු වීම දැනෙනවා මේ වගේ. කෙනෙක් ණයක් අරගන්නවා. එතකොට ව්‍යාපාරයක් පටන් ගන්නවා. පස්සෙ කාලෙ ව්‍යාපාරය දියුණු වෙලා ඒ ආදයමෙන් ණයත් ගෙවලා තමන් සැනසිල්ලෙ ඉන්නවා. ණයෙන් නිදහස් වුනා වගේ. ඊටපස්සෙ ලෙඩ වෙලා ඉන්නවා කෙනෙක්. උපමාවක්. ඒ ලෙඩවෙලා ඉන්නකොට කන්න බොන්න බෑ, පස්සෙ ලෙඩේ සුවවුනා. හොඳට කන්න බොන්න පුලුවන්. ලෙඩ චුට්ටක්වත් නෑ. ලෙඩකින් නිදහස් වුනා වගේ පඤ්චනීවරණ වලින් නිදහස් වුනාම. ඒ වගේම හිර ගෙදරකට කෙනෙක් අහුවෙලා එයා හිර ගෙදරින් නිදහස් වෙනවා. එයාට ධන ධාන්‍ය භවබෝග වලට පොඩ්ඩක්වත් හානි වෙලා නෑ. එයාට හරි සතුටුයි. හිරගෙදරින් නිදහස් වුනා වගේ පඤ්ච නීවරණ වලින් නිදහස් වෙනකොට. ඒ වගේම ධනය ඇතිව කාන්තාරයට ගිය එක්කෙනෙකුට කාන්තාරයේ ගමන් කරලා කිසිම උවදුරක් නැතිව, කිසිම කරදරයක් නැතිව කාන්තාරෙන් එතෙර වෙනවා. කාන්තාරයකින් එතෙර වුනා වගේ පඤ්ච නීවරණ දුරු වෙනකොට. ඒ වගේම කෙනෙක් ඉන්නවා කොහෙටවත් යන්න එන්න බෑ දාසකමේ. අපි උදාහරණයක් ගත්තොත් එහෙම පිටරටකට ගියොත් මොකක්හරි දාසකමකට. ගෙදරින් යන්න බෑ ඒ අයගෙන් අහන්නැතිව, මොකක්වත් බෑ අවුරුදු දෙක තුන එක කාමරයට වෙලා ඒ ගේ ඇතුලෙම ඇවිද ඇවිද ඉන්න වෙනවා. කොහෙවත් යන්න බෑ, එයා ඒකෙන් නිදහස් වෙනවා. දාස බවින් නිදහස් වෙලා සිත් සේ යන්න පුලුවන් වෙනවා වගේ මේ නීවරණ වලින් නිදහස් වුනාම. ඊටපස්සෙ ආන්න ඒ වගේ ණයක් ගත්තා වගේ, හිරේ වැටුනා වගේ, ලෙඩදුකකට වැටුනා වගේ, දාසයෙක් වෙලා හිටියා වගේ, කාන්තාරෙකට ගියා වගේ පඤ්ච නීවරණ තියෙන්නෙ. ඒවගෙන් නිදහස් වුනාට පස්සෙ ඒ හැම එකකින්ම නිදහස් වුනා වගේ. අන්න ඒවා තමා තුළ දකිනකොට දැන් නීවරණ නැනෙ කියලා ලොකු සතුටක් උපදිනවා.එතකොට ප්‍රමුදිත බව එනවා හිතට, ප්‍රීතිය එනවා. ඒ ප්‍රීතිය ඇතිවෙලා කය සංසිඳෙනවා. කය සංසිඳෙනකොට සැපයක් උපදිනවා. සැප ඇති කෙනාගෙ හිත සමාධිමත් වෙනවා. එහෙනම් හිත සමාධිමත් වෙන පිළිවෙලක් නැද්ද. අනිවාර්යයෙන් පඤ්ච නීවරණ දුරු වෙන්නෙපෑ. පඤ්ච නීවරණ දුරු

වෙනකොට ඇතිවන සතුට මුල් කරගෙන, ප්‍රමෝදය උපදිනවා, ප්‍රීතිය උපදිනවා, පස්සද්ධිය උපදිනවා. ඊළඟට සැපය උපදිනවා, හිත සමාධිමත් වෙනවා. පියවරකට ඒක වෙන්නෙ. ඊටපස්සෙ අකුසලයන්ගෙන් වෙන්ව, කාමයන්ගෙන් වෙන්ව විතක්ක විචාර සහිත වූ පළවෙනි ධ්‍යානය උපද්දවගන්නවා. පළවෙනි ධ්‍යානය උපද්දවගත්තහම එයාට විවේකයෙන් හටගත්ත ප්‍රීති සුඛයෙන් මුළු කයම තෙත්වෙලා සීතල වෙලා යනවා. හරි සැපයක්. ඒක උපමාවකින් බුදුරජාණන් වහන්සේ විස්තර කරනවා අර නානසුණු වලට, හැමතැනකම අපි මීට කලින් ඒ විස්තර කියලා තියෙනවා. නාන සුණු වලට වතුර වැටුනට පස්සෙ හැමතැනම පැතිරෙනවා වගේ. කියනවා බ්‍රාහ්මණය, ඔන්න අර සියලු පින්කම් වලට වඩා භාග්‍යවතුන් වහන්සේ සරණ ගිහිල්ලා පැවිදි ජීවිතයකට ඇවිල්ලා පළවෙනි ධ්‍යානය උපද්දවගන්නවාද, සියලු පින්කම් වලට වැඩිය මහත්ඵලයි, මහානිසංසයි. බ්‍රාහ්මණය තව කෙනෙක්, මෙයා දෙවෙනි ධ්‍යානය උපද්දවගන්නවා. බ්‍රාහ්මණය ඒ සියලු පින්කම් වලට වැඩිය මහත්ඵලයි, මහානිසංසයි. එතකොට දෙවෙනි ධ්‍යානයේ සමාධියෙන් හටගත්තු ප්‍රීති සුඛය තියෙන්නෙ. එතකොට ඒක හරියට උපමාවකින් විස්තර කරානෙ අර පොකුණකට වතුර උනනවා ඇතුලෙන්ම. සීතල වෙවී තියෙනවා පොකුණ ඇතුලෙම. පිටින් වතුර එන්නෙ නෑ. ඒ වගේ බාහිර අරමුණක් මුල් කරගෙන නෙවෙයි, ඇතුලෙම සමාධිය තුලින්ම ප්‍රීති සුඛය උපදිනවා. දෙවෙනි ධ්‍යානය. එතකොට ඒක මහත්ඵලයි මහානිසංසයි කිව්වා මෙතෙක් කරපු පින්කම් වලට වැඩිය. තුන්වෙනි ධ්‍යානය උපද්දවගන්නවා. තුන්වෙනි ධ්‍යානයේ ප්‍රීති රහිත සැපයෙන් මුළු කයම තෙත් වෙලා යනවා. ඒක හරියට නෙළුම් පොහොට්ටුවක් වතුර ඇතුලෙ තියෙනකොට අග ඉඳලා මුලටම සීතල වතුරෙන් තැවිලා තියෙනවා වගේ. ඒ පින මහත්ඵලයි, මහානිසංසයි මෙතෙක් කිව්ව පින් වලට වඩා. කෙනෙක් හතරවෙනි ධ්‍යානය උපද්දවගන්නවා. ඒකෙ සැපදුක් රහිත උපෙක්ෂාව තියෙන්නෙ. ඒ උපෙක්ෂාවෙන් කය තෙත් නොවුනු තැනක් නෑ. හරියට සුදු රෙද්දකින් කෙනෙක් වැහුවොත් ඒ මුළු කෙනාම සුදු රෙද්දෙන් වැහිලා ඉන්නවා වගේ. එතකොට මහත්ඵලයි, මහානිසංසයි, බුදුරජාණන් වහන්සේ වදාළා සියලු පින්කම් වලට වැඩිය මහත්ඵලයි, මහානිසංසයි කියලා වදාළා තෙරුවන් සරණ ගිය කෙනෙක් හතරවෙනි ධ්‍යානය උපද්දවා ගැනීම, මහත්ඵලයි මහානිසංසයි. ඒ වගේම බුදුරජාණන් වහන්සේ වදාළා ඔන්න දැන් මෙයා හොඳට මේ විදියට ධ්‍යාන සැපයේ වශීප්‍රාප්ත කරගෙන මෙයා දකිනවා තමන්ගෙ ශරීරයේ අම්මගෙයි තාත්තගෙයි එකතුවෙන් හැදිච්ච මේ ශරීරය රූපී

වූ මේ ශරීරය සමාධියෙන් දකිනවා මේකෙම කිඳා බැහැලා තියෙනවා විඤ්ඤාණය. හරියට ඔපමට්ටම් කරපු මැණිකක් ඇතුලෙන් නූලක් ගිහිල්ලා තියෙනකොට මැණික වෙනම දකිනවා, නූල වෙනම දකිනවා. ඒ වගේ පේනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා අන්න ඒ ඥාණ දර්ශනය, එහෙම දකින එක අර මෙතෙක් කරපු පින් ධ්‍යාන හතරටත් වැඩිය මහත්ඵලයි මහානිසංසයි. එතකොට තව තව මෙයා සිත සමාධිමත් කරල කරලා මොකද කරන්නෙ මෙයාගෙ මනෝකය එළියට ගන්නවා. මේ සියලු රූපයෙන් තියෙන මේ වගේම කයක් එළියට ගන්නවා. එතකොට තණකොළ ගොබෙන්, උදාහරණයක් තියෙනවා, තණකොළ ගොබේකින් අර ගොබේ ඇදලා ගන්නවා වගේ, එතකොට ගහ වෙනයි, ගොබේ වෙනයි. එතකොට මේ ඇඟෙන් මේ වගේම කෙනෙක් එළියට ගන්නවා. කොපුවෙන් කඩුව ඇදලා ගත්තා වගේ. එතකොට කොපුව වෙනම තියෙනවා, කඩුව වෙනම තියෙනවා. ඒ වගේ මේ ඇඟෙන්ම මනෝකය ගන්නවා, මනෝකය වෙනම තියෙනවා, ශරීරය වෙනම තියෙනවා. නයි පෙට්ටියෙන් නයා එළියට ගන්නවා වගේ, එතකොට නයා වෙනම ඉන්නවා නයි පෙට්ටිය වෙනම තියෙනවා. ඒ වගේ මේ ශරීරය වෙනම තියෙනවා, මේ ශරීරයෙන්ම ඇදලා ගන්නවා මනෝකය එළියට. අන්න ඔහොම කවුරුහරි කලොත් එහෙම ඒක මහත්ඵලයි කිව්වා මහානිසංසයි, මෙතෙක් කරපු පින්කම් වලට වඩා. ඊට පස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා ඔහොම ඉන්නකොට මෙයා ඍද්ධි ප්‍රාතිහාර්ය පාන්න හිත නවනවා. අහසේ යනවා, දහස් ගණන් මවනවා, වතුරේ සක්මන් කරනවා, කිමිදෙනවා, ප්‍රාතිහාර්ය පානවා, එයාට ඒක කරන්න පුලුවන් හොඳ වළං හදන කෙනෙකුට මැට්ටක් හම්බුනාට පස්සෙ එයාට ඕන ඕන විදියට මැටි ටික එහෙට මෙහෙට හරවලා ගන්නවා වගේ ඕන විදියට ඍද්ධි ප්‍රාතිහාර්ය පානවා. එය මහත්ඵලයි මහානිසංසයි කිව්වා මෙතෙක් කරපු පින්කම් වලට වඩා. ඊට පස්සෙ තව කෙනෙක් ඔය විදියට සමාධිය හොඳට වඩලා වඩලා හිත ඒ සමාධියේ හොඳට අකම්පිතව පිහිටියාට පස්සෙ දිව්‍ය ශ්‍රවණය උපද්දවගන්නවා. දුර වුනත් ළඟ වුනත් දිව්‍ය වුනත් මනුෂ්‍ය වුනත් සියලු ශබ්ද අහන්න පුලුවන් එයාට. ඔන්න මනුස්සයෙක් කැලේක යනකොට ඈත බෙරහඬක් ඇහෙනකොට එයාට තත්පරේට ඇහෙනවා ඔය මිහිඟු බෙරය, ඔය තම්මැට්ටම, ඔය ගැට බෙරය කියලා එයාට තේරෙනවා. ඒ වගේ දුර ඉඳලා හෝ ළඟ ඉඳලා හෝ දෙවියන්ගේ හෝ මිනිස්සුන්ගේ හෝ හඬ අහන්න පුලුවන්. අන්න ඒක උපද්දවගත්තොත් මෙතෙක් කරපු පින්කම් වලට වැඩිය මහත්ඵලයි මහානිසංසයි. කූටදන්ත

බ්‍රාහ්මණය ඊටත් වඩා පින් තියෙන එකක් තියෙනවා. ඒ තමයි යම්කිසි කෙනෙක් හිත සමාධිමත් වුනාට පස්සෙ අන් අයගේ හිත බලන්න හිත යොමු කලොත් එහෙම, දැන් මෙයා ඉන්නෙ රාගයෙන් ද, ද්වේෂයෙන්ද, රාග නැති හිතින්ද, ද්වේෂ නැති හිතින්ද, නිදිමත හිතින් ද, නිදිමත නැති හිතින් ද, දියුණු හිතකින් ද, දියුණු නැති හිතකින් ද, සමාධිමත් හිතකින් ද, නැති හිතකින් ද, විමුක්තියට පත්වෙච්චි හිතකින් ද, නැති හිතකින් ද කියලා එයාගේ හිත බලනවා. සාමාන්‍යයෙන් ගත්තොත් එහෙම කණ්නාඩියක් ඉදිරියට ගිහිල්ලා කෙනෙක් කණ්නාඩිය දිහා බලනකොට හොඳට ඒ කණ්නාඩියෙන් තමාව පේනවා වගේ හොඳට අනිත් අයගේ හිත පේන්න ගන්නවා. අන්න ඒක නම් මහත්ඵලයි මහානිසංසයි කිව්වා මීටත් වඩා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා කූටදන්ත බ්‍රාහ්මණය ඊටත් වැඩිය මහත්ඵල මහානිසංස පිනක් තියෙනවා, ඒ තමයි කෙනෙකුට පුලුවන් වුනොත් පෙර ජීවිත බලන්න හොඳට බලනවා මම කලින් හිටියේ මෙහෙමයි මෙහෙමයි කියලා සංවට්ඨ විවට්ඨ කල්ප ගොඩ, හරියට අපි ගමකින් ගමකට ආවට පස්සෙ අපි සිහි කරනවා මම කලින් හිටියේ අහවල් ගමේ, ඒ ගමෙන් අහවල් ගමට ආවා. මේවා කෑවෙ, මේවා බීවේ. ඒවගේ හොඳට පෙර ජිවිත සිහි කරනවා. ඒ සිහි කරන පින මහත්ඵලයි, මහානිසංසයි මේවට වඩා. කූටදන්ත බ්‍රාහ්මණය කෙනෙක් චුතිය උපත දකින කෙනෙක් මැරුණට පස්සෙ මැරෙණ හැටි ගිහිල්ලා ඉපදෙන හැටි, දිව්‍ය ලෝක වල ඉපෙදනෙ හැටි, අපායෙ උපදින හැටි කෙනෙක් දකිනවා. උදාහරණයක් ගත්තොත් එහෙම ඔන්න ගෙවල් දෙකක් මැද කෙනෙක් හිටගෙන ඉන්නවා. එතකොට එයාට අර ගෙදරින් මේ ගෙදරට යනවා මේ ගෙදරින් අර ගෙදරට යනවා ඒවා පේනවානෙ. ඒවගේ දැන් මේ මැරෙනවා, මේ ඉපදෙනවා, මෙන්න දිව්‍ය ලෝකෙ ගියා, මෙන්න අපායෙ ගියා, හොඳට චුතිය උපත පේනවා. චුතූපපාත ඥාණය ලබාගත්තොත් මෙතෙක් කරපු පින්වලට වැඩිය මහත්ඵලයි, මහානිසංසයි. බ්‍රාහ්මණය යම්කිසි කෙනෙකුට හොඳට හිත සමාධිමත් කරලා ඒ සමාධිමත් හිතින් ආසුව දකින්න පුලුවන් වුනොත්, කාමාශ්‍රව, භවාශ්‍රව, අවිජ්ජාශ්‍රව දකින්න ලැබුනොත් එහෙම එතකොට එයාට එහෙම දකින්න ලැබෙනවා මේ විදියට. කන්දක් මුදුනේ පොකුණක් තියෙනවා. රොඩු වැටිලා නෑ පිරිසිදුයි. ඒ පොකුණේ චක්ඛුමන්තො පුරිසො, ඇස් තියෙන පුරුෂයෙක් අයිනේ ඉන්නවා. එයා හොඳට බලනවා. එයාට පේනවා සිප්පිකටු තියෙනවා. මාළු එහෙට මෙහෙට යනවා හොඳට පේනවා. ඒ වගේ හිත සමාධිමත් හිතට කාමාශ්‍රව, භවාශ්‍රව, අවිජ්ජාශ්‍රව පේන්න ගන්නවා. එතකොට

මෙයා ධර්මය නුවණින් හොඳට විමසනවා. දුක නම් වූ ආර්ය සත්‍යය අවබෝධ වෙනවා. සමුදය නම් වූ ආර්ය සත්‍යය අවබෝධ වෙනවා. නිරෝධය නම් වූ ආර්ය සත්‍යය අවබෝධ වෙනවා. මාර්ගය නම් වූ ආර්ය සත්‍යය අවබෝධ වෙනවා. චතුරාර්ය සත්‍යය පරිපූර්ණ වශයෙන් අවබෝධ වෙනකොට එයාගේ කාමාශ්‍රව නැතිවෙනවා. භවාශ්‍රව නැතිවෙනවා. අවිජ්ජාශ්‍රව නැතිවෙනවා. මේ ආශ්‍රව නැතිවුනාට පස්සෙ ආසවක්ඛය ඥාණය උපදිනවා. ආයෙ ඉපදෙන් නෑ, බඹසර වාසය සම්පූර්ණ කලා, කළයුතු දෙය කලා, නැවත උපතක් නෑ කියලා හොඳට තේරෙන්න ගන්නවා. රහතන් වහන්සේ නමක්. කූටදන්ත බ්‍රාහ්මණය ඔතනින් එහාට නම් යාග නැත. ඔය තමයි තුන් ලෝකයේ උත්තරීතර යාගය කිව්වා. කූටදන්ත බ්‍රාහ්මණයාට පුදුම සන්තෝෂයි. සුන්දරයි ස්වාමීනී සුන්දරයි, මනහරයි. යටට හැරවෙච්ච් දෙයක් උඩට හැරෙව්වා වගේ. මං මුලාවූ කෙනෙකුට පාර පෙන්නුවා වගේ. වැහිලා තිබ්බ දෙයක් ඇරලා පෙන්නුවා වගේ. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මට නොයෙක් ධර්මය දේශනා කලා. මං දිවි හිමියෙන් මගේ බුදුරජාණන් වහන්සේ සරණ යනවා. ශ්‍රී සද්ධර්මය සරණ යනවා. ආර්ය මහා සංඝරත්නය සරණ යනවා. මම දිවිහිමියෙන් භාග්‍යවතුන් වහන්සේ සරණ ගිය ශ්‍රාවකයෙක් විදියට දරාගන්න. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මං දැන් මේ පිරිසට කතා කරනවා, ලිහපල්ලා අර කණුවල ඉන්න සත්තු ටික. ගොන්නු හත්සීය ලිහපල්ලා. එළදෙන්නු හත්සීය ලිහපල්ලා. සතා සීපාවා ලිහපල්ලා. උන්ට උන්ගේ අම්මලා සමඟ පියතෙපුලින් ඉන්න හදාපල්ලා. කියනවා එළුවන් හත්සිය දෙනා, තරුණ බැටළුවන් හත්සිය දෙනා මේ සියලු දෙනා නිදහස් කරන්න. ඒ අයට මං ජීවිතේ දෙනවා. ඒ ඇත්තෙ නිල් තණ කත්වා. සිසිල් පැන් බොත්වා. ඔවුන්ට ද සිහිලැල් පවන් හමත්වා. මගේ බුදුරජාණන් වහන්සේ නිසා තුන්දාස් පන්සීයක් ප්‍රාණීන්ට ඒ මොහොතේ අභයදානය ලැබුනා එක බණ පදයකට. එක බණ පදයට. කූටදන්ත බ්‍රාහ්මණයාට භාග්‍යවතුන් වහන්සේ ඒ මොහොතේම දාන කතා, සීල කතා, සග්ග කතා ආදී වූ ආනුපුබ්බී කතා වදාළා. ඔහුගේ හිත මනාව පිරිසිදු වුනා. දැන් ඔහුට බැඳෙන්න තැනක් නෑ. අර බණ කියනකොට අර හරක් ටික මතක් වෙනවානෙ. ඔක්කොම අයින් වුනා දැන්. හිත පිරිසිදු වුනා. ඒ වෙලාවට බුදුවරු දේශනා කරන සාමුක්කංසික දේශනාව නම් වූ චතුරාර්ය සත්‍යය වදාළා. පිරිසිදු වස්ත්‍රයකට සායම් උනනවා වගේ ධර්මය කිඳා බැස්සා. යං කිඤ්චි සමුදය ධම්මං සබ්බන්තං නිරෝධ ධම්මං කියලා දහම් ඇස පහළ වුනා. සෝතාපන්න බවට පත්වුනා. ඉතින් පහුවදා දවසේ බ්‍රාහ්මණයා භාග්‍යවතුන් වහන්සේට දානයට ආරාධනා කලා, භාග්‍යවතුන්

වහන්සේ දානයට වැඩම කලා. ඉතින් ධර්මය අහලා ඉතාමත් සන්තෝෂයෙන් කූටදන්ත බ්‍රාහ්මණයා භාග්‍යවතුන් වහන්සේගේ බුදුගුණ කියමින් ජීවිතේ ගත කලා. ඔය වනාහි කූටදන්ත සූත්‍රයයි. බලන්න පුදුම සහගත දේවල් බුද්ධ කාලෙ වෙලා තියෙන්නෙ. ඒ නිසා හිතන්න අපිත් දිවි තිබෙන තුරු නිවන් දකිනතුරු බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා, දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා. ඒ උතුම් තිසරණය අපගේ ජීවිතය සුවපත් කරත්වා, දුක් නිවත්වා.

ඉතින් අද දවසේ මේ උතුම් අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දැරූ පින්වතුන් අංක 263, මහින්දාගම, අසේලපුර, වැලිකන්ද, පොළොන්නරුව ලිපිනයේ පදිංචි සිවිල් ආරක්ෂක සේවා දෙපාර්තමේන්තුවේ සේවයේ නියුතු පින්වත් ආර්.එම්. වසන්ත රත්නායක මහත්මයා සහ එස්.ජී. දීපිකා ප්‍රියදර්ශනී මහත්මිය, ඒ පින්වතුන් බලාපොරොත්තු වෙන විදියට ඒ පින් අනුමෝදනා වේවා. සියලු දෙවියෝ පින් අනුමෝදන් වෙත්වා. මියගිය ඥාතීන් පින් අනුමෝදන් වෙත්වා. ඒ වගේම මේ පරම පිවිතුරු ඒ උතුම් ශ්‍රී සද්ධර්මය අපිට කියලා දුන්නු අපගේ ගුරු දෙවිඳුන්ට පින් අනුමෝදන් වේවා. ඇත්තටම දැන් තේරෙනවානෙ අපිට පුලුවන් විදියට අපි තෙරුවන් සරණ ගියානෙ. පුලුවන් විදියට අපි සිල් රකිනවානෙ. පුලුවන් විදියට යමක් කරගන්න උත්සාහ කරනවානෙ මේ ගිහි පින්වතුන්. එතකොට එතෙන්ට මග හැදුවෙ ලොකු ස්වාමීන් වහන්සේනෙ. එහෙනම් ඔබගේ ජීවිතේ අග්‍රතම පින් ඉපැද්දුවෙ ලොකු ස්වාමීන් වහන්සේ. ඒ කෙළෙහිගුණ නැතිකරගන්න එපා. රැස් කරන සියලු පිනක් ගානෙ ඒ උත්තමයන්ට දීර්ඝායුෂ පත පතා කෙළෙහිගුණ දක්වන්න. එතකොට ගුරු දෙවිඳුන් නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ ලබත්වා. ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර සංඝරත්නයට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ගෞතම සසුනේ ධර්මාවබෝධයම වේවා. ඒ වගේම සිවිල් ආරක්ෂක සේවා දෙපාර්තමේන්තුවේ සේවයේ නියුතු පින්වත් ආර්.එම්. වසන්ත රත්නායක මහත්මයා සහ එස්.ජී. දීපිකා ප්‍රියදර්ශනී මහත්මියත් අද මේ මහා ධර්ම දානය සිද්ධ කලේ. ඉතින් සුජීවත්ව සිටින ජී. ධර්මදාස පියාණන්ට, ආර්.ඩබ්. ඥාණවතී මෑණියන්ට, ආර්.එම්. විමලරත්න පියාණන්ට, ජේ. රංජනී මෑණියන්ට දීර්ඝායුෂ පිණිස පින් අනුමෝදන් වේවා. දැනට අසනීප තත්වයෙන් පසුවන ගතීෂ නිම්සර පුතාට ඉක්මණින් මේ පින් බලෙන් නිදුක් නිරෝගී සුව සැලසේවා. මෙවර සාමාන්‍ය පෙළ විභාගයට පෙනී

සිටින ප්‍රසාදි උමේෂා දියණියට, සෙතුක හිමංසන පුතාට, අමාෂි සෙනායා දියණියට මේ පින් අනුමෝදන් වී අධ්‍යාපන කටයුතු දියුණු පමුණු වේවා. සුජීවත්ව සිටින සහෝදර සහෝදරියන්ට, ඥාති හිතමිත්‍රාදීන්ට පින් අනුමෝදන් වේවා. වසන්ත මහත්මයාටත්, දීපිකා ප්‍රියදර්ශනී මහත්මියටත් මේ පින් අනුමෝදන් වෙත්වා. ඔබ අපි කාටත්, මව් දෙමව්පිය ඥාතිබන්ධුමිත්‍රාදීන්ට, ඒ වගේම ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලියේ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. ධර්මය අහන සියලු දෙනාට පින් අනුමෝදන් වේවා. අපි කාටත් උතුම් අසිරිමත් සම්බුදු සරණේ අනුහසින් ගෞතම සසුනේ පිහිට ලැබේවා. නිවනින් සැනසෙත්වා, තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=Ib-JQRbylwU&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=83

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේත් අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සමඟ ඔබ අපගේ බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුද්ධ ජීවිතය ගැන ඉගෙන ගන්නවා. බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ සිදුවීම් දිහා බලනකොට ඇත්තටම නුවණ කියන එක කළදක් හරි කනෙකුගේ හිතේ තියෙනවා නම් යොනිසොමනසිකාරය, එහෙම නැත්නම් පිනක් හරි තියෙනවා නම් පහදිනවා, අනේ ශාස්තෘන් වහන්සේ කොයි වගේ ඥාණයකින් යුක්ත වුනාද කියලා. ඉතින් අද දවසේත් බුදුරජාණන් වහන්සේ ගැන පහදින්න ඒ කාලෙ බ්‍රාහ්මණයෙකුට වෙච්චි සිද්ධියක් තමයි අද අපි කතා කරන්නෙ. ඉතින් අද දවසේ ධර්ම දේශනාව සඳහා කැලිෆෝනියාවේ පදිංචි පින්වත් සාගර පාතියගම මහත්මයා, 18 වෙනිදාට උපන්දිනය යෙදෙන පවන් පාතියගම පුතණුවන්ට සෙත් පැතීම පිණිස ඒ දරුවාගේ අධ්‍යාපන කටයුතු සාර්ථක වෙලා සියලු යහපත සැලසීම පිණිස තමයි ධර්ම දානය සිද්ධ කරන්නෙ. ඉතින් අද ධර්ම දානයේ පින් බලයෙන් පවන් පාතියගම පුතාට සියලු යහපත සැනසිල්ල අනාගත ජීවිතේ සඵල වේවා කියන මෙත් සිත පළමුවෙන්ම අපි ඇතිකරගන්නවා. ඉතින් අපි බලමු අද දවසේ බුදුරජාණන් වහන්සේගේ සම්බුදු සරණ කොහොමද ලැබෙන්නෙ  කියලා. අද මම කල්පනා කලා අස්සලායන සූත්‍රය කියලා දෙන්න ඕන කියලා. මජ්ඣිම නිකායේ දෙවෙනි පොත් වහන්සේගේ බ්‍රාහ්මණ වර්ගයේ තියෙන අස්සලායන සූත්‍රය, අස්සලායන බ්‍රාහ්මණයාට වදාළ දේශනාව. අස්සලායන සූත්‍රයේ තියෙන්නෙ ඒ කාලයේ භාග්‍යවතුන් වහන්සේ සැවැත් නුවර ජේතවනාරාමයේ වැඩ සිටපු කාලයේ වෙච්චි සිද්ධියක්. ඒ කාලයේ කිසියම් කාරණාවක් පිණිස නානා ප්‍රදේශ වලින් ශ්‍රාවස්තියට සැවැත්නුවරට බමුණො පැමිණුනා. යම් කටයුත්තකට එක එක පැතිවලින් බමුණො ආවා. මේ බමුණන්ට මේ අදහස ඇතිවුනා. ඒ තමයි මේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ශ්‍රාවස්තියේ ඉන්නවා. උන්වහන්සේ කියන්නෙ ක්ෂත්‍රිය, බ්‍රාහ්මණ, වෛශ්‍ය, ශුද්‍ර යන මේ වරණ හතරට, කුල හතරේ අයටම පිරිසිදු වෙන්න පුලුවන් ධර්මයක් කියන්නෙ. ඒ කියන්නෙ මේ කුල හතරේම අයට විමුක්තියක් කරා යන්න පුලුවන් කියලා ධර්මය දේශනා කරනවා. මේක හොඳ දෙයක් නම් නෙවෙයි. ඒ නිසා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ සමඟ මේ ගැන කතා බහ කරලා උන්වහන්සේට මේක තේරුම් කරලා

දෙන්න පුලුවන් කෙනෙක් කවුද ඉන්නෙ කියලා බමුණෝ කල්පනා කලා. එතකොට බමුණෝ කල්පනා කලා භාග්‍යවතුන් වහන්සේට වැරදිලා, මේක හොඳට තේරුම් කරලා දෙන්න පුලුවන් කෙනෙක් කවුද කියලා. එතකොට දැන් අපි මේ දවස් වල කතා කරනවානෙ බ්‍රාහ්මණ, ක්ෂත්‍රිය, වෛශ්‍ය, ශුද්‍ර කියලා කුල හතරකට, ඒකට කියනවා චතුර්වර්ණය කියලා. කුල හතරකට ඉන්දියන් සමාජය හතරකට බෙදලා එයින් බමුණෝ අධිපති වෙලා රජවරුන්ට පුරෝහිතකම් කර කර ඊටපස්සෙ වෙළහෙළදාම් කරන කට්ටිය ලවා ආර්ථිකය හදවලා, ශුද්‍රයන් දාසයො කරගෙනනෙ තිබ්බෙ සමාජයෙ. එතකොට බුදුරජාණන් වහන්සේ නමක් ලෝකෙ පහළ වෙලා සියලු දෙනාටම එක හා සමානව ධර්මය දේශනා කරනවා. හතර පැත්තෙන් පාට හතරකින් එන පරවියෝ පා මුලට ඇවිල්ලා සුදු පැහැ ගැන්වෙනවා වගේ චතුර්වර්ණයෙන්ම පැවිදි වෙලා ඒ සියලු දෙනා ශාක්‍යපුත්‍ර ශ්‍රමණ බවට පත්වුනා. එතකොට මේක ඉවසුවෙ නෑ. බමුණෝ මේක ඉවසුවෙ නෑ. බ්‍රාහ්මණ පැලැන්තියෙන් සාරිපුත්ත මොග්ගල්ලාන මහාකාශ්‍යප ආදී බ්‍රාහ්මණ වංශයෙන්ම ඇවිල්ලා පැවිදි වෙලා ශාක්‍යපුත්‍ර ශ්‍රමණයන් වහන්සේලා වෙනවා. එතකොට ආනන්ද, නන්ද, රාහුල ආදී රජකුලයෙන් ඇවිල්ලා, මහාකප්පිණ ආදී, භද්දිය, අනුරුද්ධ ආදී රජකුලයෙන් ඇවිල්ලා පැවිදිවෙලා ශාක්‍යපුත්‍ර ශ්‍රමණයන් බවට පත්වෙනවා. ඊටපස්සෙ වෙළෙඳ කුලයෙනුත් ඇවිල්ලා පැවිදි වෙනවා. ඊළඟට සුනීත, සෝපාක ආදී ශුද්‍ර වංශයෙන් ඇවිල්ලා බ්‍රාහ්මණයන්ගේ වෛශ්‍යයන්ගේ අශුචී වලවල් ශුද්ධ කරපු අය ඒ සියල්ල අත්හැරලා බුදුරජාණන් වහන්සේගේ ළඟ පැවිදි වෙලා ශාක්‍යපුත්‍ර ශ්‍රමණ වෙනවා. සියලු දෙනාම ඉරහඳ ස්පර්ශ කරන ඍද්ධිමතුන් බවට පත්වෙනවා. අකනිටා බඹලොව දක්වා තමන්ගේ කයෙන් වසඟයේ පවත්වනවා. උන්වහන්සේලාට දෙවියන් බඹුන් වන්දනාමාන කරනවා කියලා සමාජයේ පැතිරිලා යනකොට ඉවසුවේ නෑ මේක බමුණෝ. බමුණෝ කල්පනා කලා මේ විදියට කියන්න හොඳ නෑ මේ හතර පිරිසටම එකපාර විමුක්තියකට යන්න පුලුවන් ක්‍රමයක් තියෙනවා කියලා, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේට මෙය වැරදිලා. මේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේට මේක තේරුම් කරලා දෙන්න කෙනෙක් කවුද ඉන්නේ කියලා කල්පනා කලා. කල්පනා කරනකොට එසමයෙහි අස්සලායන කියලා තරුණයෙක් සැවැත් නුවර වාසය කලා ළදරුවෙක්. ඉවත් කළ කෙස් වලින් යුක්තයි. කෙස් බාලා. ඊළඟට උපතින් සොළොස් හැවිරිදියි. අවුරුදු දාසයයි වයස. ඊළඟට ත්‍රිවේදයම පාරප්‍රාප්ත වෙලා. නිඝණ්ඩු කේතුක අක්ෂර ප්‍රභේද හා

ඉතිහාස පස්වෙනු කොට ඇති පදවෙයයාකරණ ලෝක ශාස්ත්‍ර මහා පුරුෂ ලක්ෂණ ශාස්ත්‍ර හොඳට ඉගෙන ගෙන, අවුරුදු දාසය වෙනකොට බ්‍රාහ්මණයෙක් ඉගෙන ගත යුතු බමුණු දහම යම්තාක් දේවල් තියෙනවාද ඒ සියල්ලම ඉගෙන ගෙන ඉවරයි අවුරුදු දාසයට. මහා ප්‍රඥ බ්‍රාහ්මණයෙකුටවත් අස්සලායන තරුණයත් එක්ක කතා කරන්න බෑ, එච්චර දක්ෂයි අවුරුදු දාසයේ. බමුණො ටික කතා වුනා, අපි ශ්‍රමණ භවත් ගෞතමයන්ට කණේ ඇඟිලි ගහගන්න කතා කරමු මේ අස්සලායන ලවා. එතකොටත් අනිත් හැමතැනකමත් පැතිරෙනවා අවුරුදු දාසයේ ඉලන්දාරියෙකුට අවුරුදු දාසයේ ළදරුවෙකුගේ ඉදිරියේ ශ්‍රමණ භවත් ගෞතමයෝ නිරුත්තර වුනා කියලා සමාජයේ පැතිරිලා යනවා. මේ පොඩි එකා තමයි හොඳ කියලා බමුණෝ ඔක්කොම එකතුවෙලා - ඒ කිසිම බමුණෙකුට අස්සලායනත් එක්ක කතා කරන්න බෑ. ඊටපස්සෙ බමුණො මොකද කලේ, අස්සලායන මානවකයා - මානවකයා කියන්නෙ තරුණ පුතා කියන එක. ඒ තරුණයා ළඟට ගිහිල්ලා අවුරුදු දාසයේ, කිව්වා භවත් අස්සලායන මේ ශ්‍රමණ භවත් ගෞතමයෝ බණ කිය කියා යනවා බ්‍රාහ්මණ, ක්ෂත්‍රිය, වෛශ්‍ය, ශුද්‍ර කියන මේ වර්ණ හතරේම අයට විමුක්තියක් ලබන්න පුලුවන් කියලා. ඔබ එන්න, ගිහිල්ලා කරුණු පැහැදිලි කරන්න, ඔබත් පොඩ්ඩක් කතා කරන්න ශ්‍රමණ භවත් ගෞතමයොත් එක්ක. මෙහෙම කිව්ව ගමන් අස්සලායන කිව්වා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ධර්මවාදී කෙනෙක්. ධර්මයම කතා කරන කෙනෙක් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ. ඒ ධර්මයම කතා කරන ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ සමඟ කතා කරලා දිනන්න පුලුවන් කියන එක නම් අතිශයින් දුෂ්කර දෙයක් කිව්වා. ඇත්තටම අස්සලායනට නම් යම් මොළයක් තියෙනවා. ඊටපස්සෙ මට නම් ඔය පිළිබඳව ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ සමඟ කතා කරන්න පුලුවන් කමක් නෑ, මට නම් බෑ ඕවගේ පටලැවෙන්න. ඊටපස්සෙ බමුණො මොකද කලේ, බමුණො කුටයිනේ. බමුණො කිව්වා නෑ නෑ අස්සලායන ඔබ ශ්‍රමණ භවත් ගෞතමයොත් එක්ක කතා කරන්න ඕන වචනෙ වැරදියි කියලා, ඊළඟට කතා බහ කරපුවාම තේරෙනවා ඔබටනේ කතා කරන්න පුලුවන්නෙ ඕවා. ඊටපස්සෙ ආයෙත් කිව්වා බ්‍රාහ්මණවරුනි, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ධර්මවාදී කෙනෙක්, ධර්මය කතා කරන කෙනෙක්. ඒ නිසා ඒ ධර්මය කතා කරන අයත් එක්ක දිනන්න දුෂ්කරයි. ඒ නිසා මට නම් ඔය ශ්‍රමණයන් වහන්සේ සමඟ කතා බහ කරන්න මට නම් බෑ, ඕවගේ පටලැවෙන්න මං නම් කැමැති නෑ. තුන්වෙනි වතාවටත් කිව්වා ඈ අස්සලායන පොඩ්ඩක් ගිහිල්ලා

කතා කරන්නකො. ඊළඟට අනිත් එක ඔබත් තාපසයෙක් විදියට දැන් ධර්මයේ හැසිරෙන කෙනෙක්නෙ. ගිහිල්ලා කතා කරන්න යුද්ධ නොකර පරාජයට පත්වෙන්න එපා. අස්සලායන යුද්ධ නොකර පරාජයට පත්වෙන්න එපා. පොඩ්ඩක් ගිහිල්ලා කතා කරලා බලන්නකො. ඔන්න බමුණො ටික ඔක්කොම ඇවිස්සුවා අස්සලායනව. ඊටපස්සෙ අස්සලායන මානවකයා කිව්වා භවත්නි ඒකාන්තයෙන්ම මෙය ලබන්නෙ නෑ නෙව. ඒ කියන්නෙ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ධර්මවාදී කෙනෙක්. උන්වහන්සේ එක්ක කෙනෙක් කතා කරලා දිනන එක ලේසි නෑ. ඒ නිසා මං ඕවගේ පටලැවෙන්න කැමැති නෑ කියලා මං දැන් කීගමනක් කිව්වද, මං කියද්දිත් ඔහේලා අහන් නෑනෙ. ඒ නිසා දැන් ඔහේලා ඔක්කොම ඇවිල්ලා මාව උසිගන්වන නිසා, හරි මං ඔබ ප්‍රභූ බ්‍රාහ්මණවරු කියන නිසා මං ගිහිල්ලා කතා කරන්නම්, මට ප්‍රශ්නයක් නෑ මං යන්නම් කිව්වා. ඔන්න දැන් අස්සලායන බුදුරජාණන් වහන්සේ සමඟ කතා කරන්න පැමිණියා. මුලින්ම සතුටු සාමීචියේ කතා බහ කරලා ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේට කියනවා භවත් ගෞතමයන් වහන්ස, බමුණො මෙහෙම කියනවා. හැබැයි අස්සලායන හරියට පරිස්සම් වෙලා කතා කරලා තියෙන්නෙ. කියනවා භවත් ගෞතමයන් වහන්ස, බමුණො මෙහෙම කියනවා. ශ්‍රේෂ්ට වරණයෙන් යුක්ත වන්නේ බමුණො විතරයි. ඒ කියන්නෙ හොඳම කුලය බමුණු වංශය. ඒ අනිත් උදවිය හීන වර්ණයෙන් යුක්තයි. සුදු වර්ණයෙන් යුක්ත වෙන්නෙ බමුණො විතරයි. අනිත් උදවිය කළු වර්ණයෙන් යුක්තයි. බ්‍රාහ්මණයන් විතරයි පිරිසිදු. අබ්‍රාහ්මණයන් එහෙම නෑ, බමුණො විතරයි පිරිසිදු, බමුණො නොවන එය එහෙම නෑ. බ්‍රාහ්මණයො කියන්නෙ මහා බ්‍රහ්මයාගේ ළයෙහි වැඩුනු දරුවො. බ්‍රහ්මයාගෙන්ම උපන් දරුවො. බ්‍රහ්ම නිර්මාණයයි, බ්‍රහ්ම දායාදයයි, බ්‍රහ්මයාගේ මුඛයෙන් ඉපදුනු දරුවො කිව්වා. මේ බමුණො කියලා කියන්නෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ කියනවා පින්වත් අස්සලායන බ්‍රාහ්මණයන්ගේ බැමිණියන්, දැන් කිව්වෙ බමුණො තමයි ශ්‍රේෂ්ට උසස්, මහා බ්‍රහ්මයාගේ කටින් තමයි බමුනො ඉපදෙන්නෙ කියලා කිව්වා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා අස්සලායන, බ්‍රාහ්මණයන්ගේ බැමිණියො ඍතු වෙනවා දකින්න ලැබෙනවා. ගර්භනී වෙනවා දකින්න ලැබෙනවා. දරුවො වදනවාත් දකින්න ලැබෙනවා. දරුවන්ට කිරි පොවනවාත් දකින්න ලැබෙනවා. ඉතින් මිනිස් යෝනියකින් ඉපදුනු දරුවො දිහා බල බලා කියනවා මහා බ්‍රහ්මයාගේ කටින් ඉපදුනා කියනවා. ඇ අස්සලායන ඉතින් බමුණො ශ්‍රේෂ්ටයි අනිත් අය හීනයි බ්‍රාහ්මණයො සුදුයි,

අනිත් අය කලුයි, බ්‍රාහ්මණයො තමයි මහාබ්‍රහ්මයාගේ දරුවො, ළයෙන් උපන් මුවෙන් උපන් බ්‍රහ්මයාගෙන් නිර්මිත වූ, බ්‍රහ්ම දායාදයක් වූ, බමුණො කියලා කියනවා. ඇහැට පේන්නම තියෙනවා මව්ගෙන් උපන්නෙ. බමුණො දකින්න ලැබෙනවා බැමිණියො ඍතු වෙනවා, ඒ වගේම බැමිණියො විවාහ වෙනවා, බැමිණියන්ගෙ බඩට දරුවො එනවා. බැමිණියො දරුවො වදනවා, කිරි පොවනවා. ඔක්කොම අම්මාමයි හදාගන්නෙ දරුවා. කියනවා බ්‍රහ්මයාගේ කටින් ඉපදුනේ. බ්‍රහ්මයාගේ පපුවේ තුරුලේ වැඩුනෙ. කිය කියා කියනවා. ඈ අස්සලායන මං අහන්නෙ මේකයි. ඒ කියන්නෙ දැන් ඔය විදියට කියනකොට ඒක හරිද. ඒ වුනාට, අස්සලායන කියනවා. බුදුරජාණන් වහන්සේ මතකද දැන් ඉදිරියට අපි දේශනා කතා කරනවා බුදුරජාණන් වහන්සේ වදාළා මේ මනුස්සයන්ගේ මනුස්ස යෝනියකින් උපදින දරුවො පෙනි පෙනීම මහා බ්‍රහ්මායාගේ කටින් ඉපදුනා කියලා මහා බ්‍රහ්මයාට නින්දා කරන්න එපා කිව්වා. ඇයි මේ ඔක්කෝටම පේනවා දරුවෙක් ඉපදෙන තැන. එතකොට මහා බ්‍රහ්මයාගේ කටයි ඒකයි සමාන කරන්න එපා කිව්වා. නින්දා කරන්න එපා කිව්වා මහා බ්‍රහ්මයාට. ඉතින් මේ වෙලාවෙත් කියනවා, පේන්නම බවලත් උදව්යට දරුවො වදනවා පෙනි පෙනීම මහා බ්‍රහ්මයාගෙන් වැදුවා කියනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ ඔහොම දේශනා කරද්දී, අස්සලායන කියනවා, භවත් ගෞතමයන් වහන්ස, ඔබවහන්සේ ඔහොම කිව්වට බමුණො කියන්නේම මේ බ්‍රාහ්මණයො කියන්නේම මහා බ්‍රහ්මයාගේ මුවින් ඉපදුනු ශ්‍රේෂ්ට ජාතියක්. බ්‍රහ්මයාගේ තුරුලේ තමයි වැඩුනෙ කියලා තමයි හැම බමුණෙක්ම කියන්නෙ. ඔබවහන්සේ ඔහොම කිව්වට බමුණො කියන්නෙ අර විදියට. බුදුරජාණන් වහන්සේ වදාළා හරි අස්සලායන, ඔබ මොකක්ද මේ ගැන හිතන්නෙ. ඔබ යෝන කාම්බෝජ ආදී අන්‍ය ප්‍රත්‍යයන්ත ජනපද ගැන අහලා තියෙනවාද. ඒ කියන්නෙ කාම්බෝජය, යෝනකදේශය - යෝනකදේශය කියලා කියන්නෙ අරාබිය පැත්ත. ඒ වගේ දුර ප්‍රදේශ ගැන ඔබ අහලා තියෙනවාද. ඒවගේ තියෙන්නෙ වර්ණ දෙකයි. ඒ කියන්නෙ ස්වාමි පන්තියයි, දාස පන්තියයි. ස්වාමියො ඉන්නවා දාසයො ඉන්නවා. කාලෙකදි ධනවත් ස්වාමියො දුප්පත් වෙලා දාසයො වෙනවා. දාසයො පෝසත් වෙලා ස්වාමියො වෙනවා. ඔන්න ඔය වාගේ අය නේද කාම්බෝජ, යෝනකදේශය ආදී ඈත ප්‍රත්‍යයන්ත ජනපදවල තියෙන්නෙ. අස්සලායන ඔබ මොනවද අහලා තියෙන්නෙ ඒ ගැන. කියනවා භවත් ගෞතමයන් වහන්ස, මං ඕක අහලා තියෙනවා. යෝනකදේශයේ, කාම්බෝජයේ ධනපති පන්තියයි, දුප්පත් පන්තියයි, ඒ කියන්නෙ ස්වාමිවරු

දාසයො කියලා කොටස් දෙකයිලු ඉන්නෙ. කාලෙකදි දාසයො පෝසත් වෙලා ස්වාමියො වෙනවාලු, ස්වාමියො දුප්පත් වෙලා දාසයො වෙනවාලු. ඉතින් ඕක මං අහලා තියෙනවා. ඉතින් අස්සලායන ඔහොම එකක් නම් මේ ලෝකෙ තියෙන්නෙ මොකද ඔය බමුණො විතරක් ශ්‍රේෂ්ටයි, මහා බ්‍රහ්මයාගේ කටින් ඉපදුනා, බ්‍රහ්මයාගේ හදවතේ, පපුවේ උණුසුමට වැඩුනෙ. බ්‍රහ්මයාගේ දායාදයක්, සුදු අය මේ අයයි කියලා මොකද මේ බමුණො විතරක් ශ්‍රේෂ්ටයි ශ්‍රේෂ්ටයි කිය කියා යන්නෙ. මේ අපිට ඇහැට පේන්නම මේ ලෝකෙ දුප්පත් පෝසත් කියලා භේදයක් තියෙනවා. දුප්පත් කෙනා පෝසත් වෙනවා. පෝසත් කෙනා දුප්පත් වෙනවා. අද ස්වාමියා හෙට දාසයා වෙනවා. හෙට දාසයා අද ස්වාමියා වෙනවා. මොකක්ද ඇහුවා වංශෙක තියෙන ශ්‍රේෂ්ටත්වය. ඊටපස්සෙ අස්සලායන කියනවා ඉතින් භවත් ගෞතමයන් වහන්සේ ඔබවහන්සේ ඔහොම කිව්වාට බමුණො කියන්නෙ බමුණොම ශ්‍රේෂ්ටයි කියලානෙ. දැන් මේ අවුරුදු දාසයක කෙස් බාපු තට්ටය සහිත ලස්සන පැහැපත් කොල්ලෙක්. බ්‍රාහ්මණයෙක්. හැබැයි සියලු බමුණු දහම පරතෙරට පත්වෙලා මුළු ශ්‍රාවස්තියේම නෑ මේ වගේ කතා කරන්න පුලුවන් කොල්ලෙක්. බමුණො ටික මෙයාම තෝරලා දැම්මා ඉස්සරහට. ඉතින් බුදුරජාණන් වහන්සේ කරුණු සහිතව කියද්දින් අස්සලායන කියනවා ඔබවහන්සේ එහෙම කිව්වට බමුණො කියන්නෙ බමුණො තමයි ශ්‍රේෂ්ට කියලා. හරි, පින්වත් අස්සලායන, සත්තු මරන, හොරකම් කරන, වැරදි කාමසේවනයේ යෙදෙන, බොරු කියන, කේලාම් කියන, පරුෂ වචන කියන, හිස් වචන කියන, අනුන්ගේ දේට ආසා කරන, ඊළඟට තරහයෙන් වෛරයෙන් ඉන්න, ඒ වගේම මිත්‍යා දෘෂ්ටියෙන් ඉන්න දස අකුසල කර්ම කරන අය මැරුණට පස්සේ අපායේ උපදිනවා නම් බමුණො උපදින් නැද්ද එහෙම අපායෙ, දස අකුසල් කරන රජ කුලයේ අය ගිහිල්ලා උපදින් නැද්ද අපායේ. ඊළඟට වෙළඳ කුලයේ කට්ටිය අපායේ උපදින් නැද්ද. ඊළඟට ශුද්‍ර අය අපායෙ උපදින් නැද්ද. ඊටපස්සෙ කියනවා භවත් ගෞතමයන් වහන්ස, ඇත්තටම දස අකුසල් කරන බමුණත් අපායේ උපදිනවා. රජ කුලයේ කෙනත් අපායේ උපදිනවා. වෙළඳ කුලයේ කෙනත් අපායේ උපදිනවා. ශුද්‍රයොත්, දාසයොත් ගිහිල්ලා අපායේ උපදිනවා. ඊටපස්සෙ භවත් ගෞතමයන් වහන්ස, මේ විදියට අකුසල් කරලා නම් පරලොව යද්දි ඒ කෙනාගේ වර්ණය අදාළ වෙන් නෑ, කරපු අකුසලය අනුව උපතක් කරා යනවා. පින්වත් අස්සලායන, එහෙනම් දැන් කියන්න මොකක්ද බමුණො විතරක් ශ්‍රේෂ්ටයි කියලා දැන් ඔහේ කෑමොර දීලා ඔය කියන කතාවට තියෙන බලය මොකක්ද. ඔයා කියන කතාවේ තියෙන

වටිනාකම මොකක්ද. භවත් ගෞතමයන් වහන්ස ඔබවහන්සේ ඔය විදියට කිව්වට බමුණෝ නම් කියන්නෙ බමුණෝම ශ්‍රේෂ්ටයි කියලා. ඊටපස්සෙ කියනවා බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, හරි අස්සලායන සතුන් මැරීමෙන් වැළකී ඉන්නවා කෙනෙක්. හොරකම් කිරීමෙන් වැළකී ඉන්නවා. වැරදි කාමසේවනයෙන් වැළකී, බොරු කීමෙන් වැළකී, කේලම් කීමෙන් වැළකී, පරුෂ වචන කීමෙන් වැළකී, හිස් වචන කීමෙන් වැළකිලා, ඊළඟට ව්‍යාපාදයෙන් වැළකිලා අනුන්ගේ දේට ලෝභ කිරීමෙන් වැළකිලා, සම්මා දිට්ඨියෙන් යුක්තවෙලා දස කුසල් කරන කෙනෙක් සුගතිසංඛ්‍යාත ලෝකයේ උපදින්නේ බමුණෝ විතරද, ඇයි ක්ෂත්‍රිය, වෛශ්‍ය, ශුද්‍ර අය උපදින් නැද්ද. ඊළඟට අස්සලායන කියනවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස, යම්කිසි කෙනෙක් දස කුසල් වල යෙදෙනවා නම් එයා මැරිලාත් සුගතියට යනවා නම් එයා බමුණු කුලේ කෙනත් යනවා, රජ කුලේ කෙනත් යනවා, වෙළෙඳ කුලේ කෙනත් යනවා, දාස කුලේ ශුද්‍රයොත් යනවා. කුසල් කලොත් ආයෙ කුලයක් අදාල නෑ එයා කර්මානුරූප උපතක් කරා යනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඈ අස්සලායන, ඉතින් එහෙම නම් ඕනම කුලයක එක්කෙනෙක් හොඳක් කලොත් සුගතියේ උපදිනවා නම් කුසල් කලොත් මොකක්ද ඔය බමුණෝ ඔය මහා බ්‍රහ්මයාගේ කටින් ඉපදිලා ඒ අයයි ශ්‍රේෂ්ට අනිත් ඔක්කොම පහත් කියලා මොකක්ද ඔය කෑමොර දෙන්නෙ. ඔයා කියන කතාවට තියෙනවාද වටිනාකමක්, බලයක්. මොකක්ද ඔයා කියන කතාවේ තේරුම. ඊටපස්සෙ ආයෙත් අස්සලායන කියනවා ස්වාමීනී ගෞතමයන් වහන්ස, ඔබවහන්සේනෙ ඔහොම කියන්නෙ. එහෙම කිව්වට මේ බමුණෝ කියන්නේම බමුණෝ තමයි ශ්‍රේෂ්ට. හරි අස්සලායන මේ ගැන මොකක්ද හිතෙන්නෙ. ඒ තමයි මේ ප්‍රදේශය පුරාවට අවෛරී වූ පීඩා රහිත වූ මෙත් සිත වඩන්න පුලුවන් වෙන්නෙ බ්‍රාහ්මණයාට විතරද. අස්සලායන මෛත්‍රී භාවනවා කරනවා කියලා හිතන්නකො කෙනෙක්. ඒ මෛත්‍රී භාවනාව කරන්න පුලුවන්නෙ බමුණන්ට විතරද. රජකුලයේ කෙනාට බැරිද. ඊළඟට ශුද්‍රයන්ට බැරිද, ඊටපස්සෙ අස්සලායන කියනවා ස්වාමීනී මෛත්‍රී භාවනාව කරන්න ගියොත් කෙනෙක් ඒක බමුණටත් කරන්න පුලුවන්, ක්ෂත්‍රියාටත් කරන්න පුලුවන්, වෛශ්‍යයාටත් කරන්න පුලුවන්, ශුද්‍රයාටත් කරන්න පුලුවන්. ඕනම කුලයක එක්කෙනාට කුසල් වඩන්න පුලුවන් කිව්වා. ඉතින් අස්සලායන, මං නුඹෙන් අහන්නේ මේකයි ඔය විදියට පේන්න තියෙද්දි මොකක්ද මේ බමුණු කුලය කියලා එකක් ඔළුවෙ තියාගෙන ඉන්නෙ. මහා බ්‍රහ්මයාගේ කටින්

ඉපදුනාය, දායාදය, මහා බ්‍රහ්මයාගේ තුරුළේ වැඩුනාය කිය කියා මොකක්ද ඔයා කියන කතාවට තියෙන පදනම මොකක්ද. පින්වත් අස්සලායන, ඊටපස්සෙ ආයෙත් අස්සලායන කියනවා අනේ ඔබවහන්සේ ඔහොම කිව්වට දැන් බලන්න මෙයා කටගහගෙනම යනවා. ඔබවහන්සේ ඔහොම කිව්වට බමුණෝ කියන්නෙ බමුණෝ ශ්‍රේෂ්ටයි කියලා. ඉතින් බුදුරජාණන් වහන්සේ අහනවා පින්වත් අස්සලායන, ඒ ගැන කුමක්ද හිතන්නෙ. පිට උලන ලණුවක් රැගෙන නදියට ගිහිල්ලා වතුර නාගෙන දූවිලි කුණු හෝදාහරින්න පුලුවන් වෙන්නෙ බමුණෙකුට විතරයිද. ඇඟ උලන ලණු කෑල්ලක් අරගෙන ගඟට ගිහිල්ලා නාලා කුණු හෝදගෙන ශුද්ධ වෙන්න පුලුවන්නෙ බමුණෙකුට විතරද. ඇයි රජකුලයේ කෙනෙකුට බැරිද, වෙළෙඳ කුලයේ කෙනෙකුට බැරිද. ශුද්‍රයෙකුට බැරිද ලණුවක් අරගෙන ගිහිල්ලා ඇඟ හෝදගෙන වතුරෙන් නාලා උඩට එන්න බැරිද. ස්වාමීනී, පුලුවන්, ඕනම කෙනෙකුට පුලුවන්. එහෙනම් අස්සලායන ඕනම කුලයක කෙනෙකුට හිත පිරිසිදු කරගන්න බැරිද. එහෙනම් මොකක්ද අස්සලායන ඔබ කියන කතාවට තියෙන පදනම. දැන් මේ බමුණෝ ශ්‍රේෂ්ටයි, බ්‍රාහ්මණයො තමයි මහාබ්‍රහ්මයාගේ මුඛයෙන් ඉපදුනේ, ශුද්‍රයො යටිපතුලෙන් ඉපදුනේ. අනික් ඔක්කොම කුල පහතයි කියලා මේ කුලයක් කරතියාගෙන, මොකක්ද අස්සලායන කරුණු සහිත බව ඔබ කියන එකට. ආයෙත් අස්සලායන කියනවා, අනේ භවත් ගෞතමයන් වහන්ස, ඔබවහන්සේ ඔහොම කිව්වට බමුණෝ කියන්නෙ, බමුණෝ එක අදහසකම ඉන්නවා ඒ තමයි බමුණෝ ශ්‍රේෂ්ටයි. ඉතින් අස්සලායන, හරි මේ කරුණෙහිලා මොකක්ද ඔබ හිතන්නෙ. මෙහි ලා ඔටුනු පලන් රජ කෙනෙක් නානා කුලයන්ට අයත් පුරුෂයන් අතරින් සියක් පුරුෂයන් රැස් කරනවා. භවත්නි මෙහි එත්වා, යමෙක් ක්ෂත්‍රිය කුලයේ උපන්නාද, යමෙක් බ්‍රාහ්මණ කුලයේ උපන්නාද, යමෙක් වෙනත් රජ කුලයක උපන්නාද, ඔවුන් සල් ගසක වේවා. සල්ල ගසක වේවා, සඳුන් ගසක වේවා, ලීයෙන් කළ උත්තරාරණිය නම් වූ ගිනි ගානා දල්ලකින් ගිනි දල්වත්වා. තේජස පහළ කරත්වා. දෙවෙනුව කියනවා චණ්ඩාල, වේන, නේසාද, පුක්කුසරතකාර කියන්නෙ චණ්ඩාල කුලයේ, වැදි කුලයේ, ඊළඟට රතකාර කුලයේ, ඊළඟට කුඹල් කුලයේ මේ වාගේ පහත් කුලවල අයත් එන්න. ඔයාලා නිකං මේ ඌරෝ ලැගපු තැන්වල ලී අරගෙන, බල්ලො හිටපු තැන්වල ලී අරගෙන, රෙදි අපුල්ලපු තැන් වල ලී අරගෙන, ඊටපස්සෙ ඒලක නම් වර්ගයේ නීච වර්ගයේ ලීයෙන් කරපු උත්තරාරණිය අරගෙන ගිනි දල්වත්වා, තේජස පහළ කරත්වා. දැන් අර බමුණු කුලයේ රජ කුලයේ අයටයි කිව්වා සඳුන් අගිල්,

සඳුන් කොකුම් වලින් සල් ලීයෙන් වටිනා ලීවලින් ගින්දර උපද්දවන්න කියලා. අර අයට කිව්වා ඌරෝ හරක් ලැගපු තැන්වල මඩ ගෑවිච්ච ලී වලින් ගින්දර උපද්දවන්න කියලා. පහත් ලාමක ලී වලින්. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා අස්සලායන දැන් අර කට්ටිය සල් ලීයෙන් සඳුන් ලීයෙන් සලල ලීයෙන වටිනා ගිනි උපදවන මැෂිමකින් ගිනි ඉපැද්දුවානෙ. එතකොට ඒ ඉපදුන ගින්දර වල යම් තේජසක් ඇත්ද, ඒ ගින්දරේ විතරද දැල්ල තියෙන්නෙ, තේජස තියෙන්නෙ. ඒ ගින්දරේ විතරද එළිය තියෙන්නෙ. ඒ ගින්දරේ විතරද ප්‍රභාෂ්වර බව තියෙන්නෙ. ගින්නකින් යමක් කළ යුතුද, එය කළ හැක්කේ අර සඳුන් වලින් පත්තු කරපු ලී වලින් පමණද. ඇයි අර චන්ඩාල, නේසාද, වේන, රථකාල, පුක්කුස ඔය වාගේ පහත් යැයි සම්මත කුල වලින් අර හරක් ළගින ඌරෝ ලගින පහත් තැන් වලින් ගත්ත ලී වලින් ගින්දරක් ඉපදුවොත් ඒ ගින්දරේ ප්‍රභාෂ්වර බවක්, එළියක්, ගින්නෙන් කළ යුතු වැඩක් ඒවගෙන් කරන්න බැරිද. කියනවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස, ඔය විදියට නම් ඇත්තටම කවුරු සඳුන් ලීයෙන් ගින්දර ගත්තත්, ඌරෝ ලගින තැනක ලී කෑළි ටිකක් එකතු කරලා ගින්දර ඉපැද්දුවත් ගින්දර ගින්දරමයි. තේජස තේසමයි. එළිය එළියමයි. ඉතින් බුදුරජාණන් වහන්සේ අහනවා එහෙනම් අස්සලායන, මොකක්ද මේ බමුණො ශ්‍රේෂ්ටයි කියලා ඔළුවේ තියාගෙන ඉන්නෙ ඇයි. බමුණාගේ මුඛයෙන් ඉපදුනාලු, පපුවේ හැදුනලු, උණුසුම ලැබුනාලු, අනිත් අය නීචයි ලු, මොකක්ද අස්සලායන ඔබ කියන කතාවේ තියෙන වටිනාකම. ඒ කතාවට තියෙන පිහිට මොකක්ද. ඊටපස්සෙ ආයෙත් අස්සලායනයා කියනවා අනේ ඔබවහන්සේ ඔහොම කිව්වට බමුණො කියන්නේම බ්‍රාහ්මණ වංශය ශ්‍රේෂ්ටයි කියලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ අහනවා, හරි පින්වත් අස්සලායන, ඒ ගැන මොකක්ද හිතන්නෙ. මෙහිලා ක්ෂත්‍රිය කුමාරයෙක් බ්‍රාහ්මණ කුමාරියක සමඟ අඹුසැමියන් විදියට ඉන්නවා. රජ කුමාරයෙක් බමුණු කෙල්ලෙක් එක්ක කසාද බඳිනවා. ඔවුන්ට දරුවෙක් ලැබෙනවා. ඒ දරුවාට ඒ කුමාරයා නිසා බ්‍රාහ්මණ කන්‍යාවකට පුතෙක් ඉපදෙයිද, ඒ දරුවට අම්මගෙ හැඩරුවත් එනවා, තාත්තාගෙ හැඩරුවත් එනවා. එතකොට මේ දරුවට කියන්න ඕන රජකුලයේ දරුවෙක් කියලද, බමුණු කුලයේ දරුවෙක් කියලද. ස්වාමීනී ඔය විදියට නම් ඔය ළමයා රජ කුලයේ රජ කුමාරයෙක් කියලා කිව්වට ප්‍රශ්නයකුත් නෑ, බමුණු කුමාරයෙක් කියලා කිව්වට ප්‍රශ්නෙකුත් නෑ. හරි පින්වත් අස්සලායන, මෙහි ලා බ්‍රාහ්මණ කුමාරයෙක්, බමුණු තරුණයෙක් රජ කුමාරිකාවක් බඳිනවා. එහෙම බැන්දට පස්සෙත් දරුවෙක් ඉපදෙනවා. ඒ පුතාටත් අම්මගෙ මූණුවරත්

තියෙනවා, තාත්තගෙ මූණුවරත් එනවා. දැන් මෙයාට කියන්නෙ බමුණු පුතෙක් කියලද, රාජ පුතෙක් කියලද. ස්වාමීනී ඔය පුත්‍රයාට රාජ පුත්‍රයා කියලා කිව්වත් කමක් නෑ, බ්‍රාහ්මණ පුත්‍රයා කියලා කිව්වත් කමක් නෑ. ඊටපස්සෙ කියනවා හරි අස්සලායන, ඒ ගැන මොකක්ද හිතන්නෙ. මෙහි ලා වෙළඹක් බූරුවෙක් සමග අඹුසැමියන් විදියට වාසය කරනවා. අස්ස දෙනක් බූරුවෙක් එක්ක එකතු වෙනවා. පැටියෙක් ලැබෙනවා. එතකොට බූරුවෙකු නිසා අස්ස දෙනකට පැටියෙක් ලැබුනොත් ඒ බූරු පැටියට මවුගේ හැඩයත් තියෙනවා, පියාගේ හැඩයත් තියෙනවා. එතකොට ඒ පැටියාට අස්ස පැටියා කියලාද කියන්නෙ බූරු පැටියා කියලද කියන්නෙ කියලා ඇහුව. අස්ස දෙනකට බූරුවෙක් නිසා පැටියෙක් හම්බවුනොත් ඒ ඉපදෙන දරුවාට, පැටියාට අර බූරුවගෙ හැඩරුවත් එනවා, අශ්වයාගේ හැඩරුවත් එනවා. දැන් මේ පැටියට කියන්නෙ බූරු පැටියෙක් ද, එහෙම නැත්නම් අශ්ව පැටියෙක්ද. ඊටපස්සෙ කිව්වා ගෞතමයන් වහන්ස වෙළඹකගෙන් උපන් ඒ පැටියාට කියන්නෙ අශ්වතර කියලා. ශ්‍රේෂ්ට අශ්වයෙක්ගේ ගණයට වැටෙනවා. භවත් ගෞතමයන් වහන්ස, ඒ සතාගේ පැහැදිලි වෙනසක් දකින්න ලැබෙනවා. නමුත් මනුස්සයොන්ට එහෙම වෙනසක් නෑ. ඇත්තටම කුල දෙකක, වංශ දෙකක තිරිසන් සත්තුන්ගේ එකතුවීමක් හැදිලා දරුවෙක් හැදුනොත් ඒ දරුවා වෙනස්ම සත්ත්වයෙක්. ඒ අශ්වතර කියන ඒ වටිනා අශ්ව ගණයට තමයි එන්නෙ එයාට අශ්වයා කියලා කියන්නෙත් නෑ. අශ්වතර කියලා කියන්නෙ. අශ්වයා කියන්නෙත් නෑ බූරුවා කියලා කියන්නෙත් නෑ, නමුත් මේ මනුෂ්‍යයන් අතර මොන වංශෙන් කුලයෙන් හැදුනත් ඒ දරුවා දරුවාම තමයි. මනුස්ස දරුවෙක් කියලමයි කියන්නෙ. කිසිම වෙනසක් නෑ. මිනිස්සු අතර වෙනස්කම් නෑ කිව්වා. ඉතින් අස්සලායන, ඒක හරි, දැන් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, හරි, එක මව්කුසින් උපන් සොහොයුරු මානවකයන් දෙදෙනෙක් ඉන්නවා. එක්කෙනෙක් උපනයන කොට වේද මන්ත්‍ර හදාරනවා. ඔන්න එක්කෙනෙක් බමුණන්ටම වෙන් කරලා වේද මන්ත්‍ර හදාරවනවා. එක අම්මගෙන් ඉපදිච්චි නිවුන් දරුවො දෙන්නෙක් කියලා හිතන්නකො. එක්කෙනෙක් බමුණු දහමටම කැප කරනවා. හොඳට වේදය උගන්නනවා. අනිත් එක්කෙනා බමුණන්ටම කැප කරලා නෑ, වේදය උගන්වන්නෙත් නෑ. එතකොට ඔයාලා දානයක් දෙද්දි යාගබතක් කරද්දි, යාග හෝම කරද්දි බමුණන්ගේ පූජාවල් තියද්දි පළමුවෙන් කාටද තැන දෙන්නෙ. ඔය එක අම්මගෙ බඩේ ඉපදුන දරුවො දෙන්නගෙන් කාටද ඉස්සෙල්ලාම තැන දෙන්නෙ. ඊටපස්සෙ කිව්වා භවත් ගෞතමයන් වහන්ස, මෙහිලා යම්

මානවකයෙක් උපණයනය කොට බමුණන්ටමම වෙන් කරලා, බමුණු දහමටම වෙන් කරලා, වේද මන්ත්‍ර හදාරලා, බ්‍රාහ්මණයන්ගේ ශ්‍රේෂ්ට බවට පත්වෙච්ච ළමයෙක් ඉන්නවා නම් ඒ ළමයාට තමයි දානය දෙන්නෙ. යාගහෝම වලදී එයා තමයි ඉස්සරහට ගන්නෙ. අරයා ගන්නෙ නෑ. මොකද භවත් ගෞතමයන් වහන්සේ කිම උපනයනය නොකළ වේද මන්ත්‍ර නොහදාළ කෙනෙකුට දුන් දෙය මහත්ඵල මහානිසංස වන්නෙ කොහොමද. වේදය හදාරපු නැති නිසා බමුණන්ටමම වෙන් කරපු, බමුණු මන්ත්‍රවලටම වෙන් කරපු නැති නිසා අරයා ගන්නෙ නෑ ඉස්සරහට. එතකොට දැන් මේකෙන් අදහස් වෙන්නෙ මොකක්ද. මෙතනින්ම දැන් ආවා, එකම බඩේ ඉපදුනා. බැමිණියගේ කුසේ, නිවුන් දරුවො දෙන්නෙක්නෙ මේ. එතකොට එහෙම ඉපදුනත් බමුණො ඉස්සරහට ගන්නෙ ඇයි දැන් බමුණොවත් නොදැනගෙන වේදය ඉගෙනගත්තා කියන කාරණාව සහ අර උපණයනය කරපු, ඒ කියන්නෙ එයාලගේ වේද වලින් යම්කිසි බමුණන්ගේ තාපස ක්‍රමයකට වෙන් කරපු කෙනෙක්. එතකොටම දැන් තේරෙනවානෙ, ශ්‍රේෂ්ට වෙලා තියෙන්නෙ උපත නෙවෙයි කියලා. උපත ශ්‍රේෂ්ට වුනා නම් එක බඩින් ඉපදුනු දරුවො දෙන්නගෙන් එක්කෙනෙක් ඉස්සරහට ගන්නත්, එක්කෙනෙක් බැහැර කරන්නත් හේතුව මොකක්ද. දැන් අස්සලායන හිරවෙනවා. ඊටපස්සෙ අහනවා හරි අස්සලායන දැන් මොකක්ද කියන්නෙ. ඔන්න එකම අම්මගෙ කුසෙන් ඉපදුනු සොහොයුරො දෙන්නෙක් ඉන්නවා. එක්කෙනෙක් උපණයනය කරලා වේද මන්ත්‍ර හදාරලා තියෙනවා, හැබැයි දුස්සීලයි. එයා බමුණු දහමට වෙන් කරලා වේද ඔක්කොම හදාරලා, වේද මන්ත්‍ර දන්නවා, හැබැයි මෙයා පඤ්ච දුෂ්චරිතයම කරනවා. දස අකුසල්ම කරනවා, දුස්සීලයි. තරහෙන් ක්‍රෝධයෙන් වෛරයෙන් පුපුර පුපුරා ඉන්න පාප ධර්මයන්ගෙන් යුක්ත කෙනෙක්. එක්කෙනෙක්. තව එක්කෙනෙක් ඉන්නවා එයා උපණයනය කරලා නෑ, ඒ වගේම වේද මන්ත්‍ර හදාරලත් නෑ, හැබැයි එයා ගොඩාක් සිල්වන්තයි. කරුණා මෛත්‍රියෙන් බැබළෙනවා. එතකොට බමුණො පූජාවක් තියෙද්දින් කවුද ඉස්සරහට ගන්නෙ. වේදය හදාරපු පස් පව් දස අකුසල් දුෂ්චරිත කරන කෙනාද, නමුත් වේදය හදාරලා නැතත් සීලවන්තව මෛත්‍රියෙන් ඉන්න කෙනාද, බමුණො පූජාවකදි ඉස්සරහට ගන්නෙ. ඊටපස්සෙ කිව්වා ස්වාමීනී ඒ වාගේ තැනකදි නම් ඉස්සරහට ගන්නෙ සීලවන්ත මෛත්‍රියෙන් ඉන්න කෙනා. වේදය හැදෑරුවත් පාපධර්ම තියෙන දුස්සීල කෙනෙකුට දානයක් දුන්නා කියලා ඒක මහත්ඵල මහානිසංස වෙනවාද කියලා ඇහුවා. ඉතින් අස්සලායන ඔබ කලින් උපන් කුලයට ගියත්, කුලය හොඳයි

කියලා. ඊටපස්සෙ වේද හදාරන එක උතුම් කියලා ගියා. ඇයි උපන් කුලය නිසානෙ අර මුලින් බ්‍රහ්මයාගේ මුවින් ඉපදුනා කියලා කතාවක් ආවෙ. ඊටපස්සෙ අර එකම අම්මගෙ බඩින් ඉපදිලා එක්කෙනෙක් වේදය හදාරනවා, එක්කෙනෙක් වේදය හදාරන්නෙ නෑ, ඒ දෙන්නගෙන් ශ්‍රේෂ්ට වෙන්නෙ වේදය හදාරන කෙනා කියලා වේදය හොඳයි කියලා ආවනෙ. ඊටපස්සෙ ආවනෙ, වේදය හදාරපු එක්කෙනා දුස්සීලයි, පාපධර්මයන්ගෙන් යුක්තයි, වේදය හදාරපු නැති කෙනා සීලවන්තයි ඒ වගේම සොඳුරු ගුණධර්ම වලින් යුක්තයි, කළ්‍යාණ ධර්මයන්ගෙන් යුක්තයි. එතකොට ඔබම කිව්වා සීලවන්ත, කල්‍යාණ ධර්මයන්ගෙන් යුක්ත, මෛත්‍රී සහගත කෙනාට තමයි බමුණෝ වැඩිපුර සලකන්නෙ කියලා. දැන් කියන්න අස්සලායන ඔබ මුලින් කුලය ශ්‍රේෂ්ටයි කිව්වා, ඒක අත්හැරියා ඔබ. වේදය හදාරන එක ශ්‍රේෂ්ටයි කිව්වා ඒකත් අත්හැරියා. අවසානෙට ඔබ ආවා නේද සීලවන්ත කල්‍යාණ ධර්ම ඇති සොඳුරු ප්‍රතිපදාව ශ්‍රේෂ්ටයි කියන තැනට ඔහේම ආවා නේද දැන්. දැන් කියන්න කිව්වා. ඉතින් තපසට ගිහිල්ලා චතුර්වරණයකට පොදු පිරිසිදු වීමක් ගැන කියනවාද, ඒ මතයට, මම කියන අදහසටම ඔබ ආවනෙ. ප්‍රතිපත්තියෙන් කෙනෙක් වෙනස් වෙනවා කියලා. ප්‍රතිපත්තියයි ශ්‍රේෂ්ට කියලා. මෙසේ වදාළ විට අස්සලායන මානවකයා නිශ්ශබ්ද වුනා. කරකියාගන්න දෙයක් නෑ. ඇයි උත්පත්ති කතා ඔක්කොම ඉවරයිනෙ දැන්. කුලේ කතා ඉවරයි, එයාගේ කටින්ම කියවුනානෙ ප්‍රතිපදාව ශ්‍රේෂ්ටයි කියලා. කරකියාගන්න දෙයක් නැතිවෙලා කඳ පහතට හරවාගෙන මුහුණ පහතට හරවාගෙන කල්පනාවට වැටුනා. වැටහීම් රහිතයි, සිතිවිලි වචන එන් නෑ, ගල් ගැහිලා ඉන්නවා බුදුරජාණන් වහන්සේ ඉස්සරහ. අස්සලායන, මෙකල්හි නිශ්ශබ්දව කරකියාගත නොහැකිව කඳ පහත් කොට මුහුණ යටට හරවාගෙන කල්පනාවට වැටී වැටහීම් රහිතව වාඩි වී සිටින අස්සලායන මානවකයාට මෙසේ වදාළා, භාග්‍යවතුන් වහන්සේ. අස්සලායන මං නුඹට ඉස්සර වෙච්චි දෙයක් කියන්නම්. අස්සලායන වනාන්තරයේ පන්සල් වල වේද මන්ත්‍ර හදාරන බ්‍රාහ්මණ ඍෂිවරු හත්දෙනෙකුට එක දෘෂ්ටියක් ඇතිවුනා. ඒ තමයි බ්‍රාහ්මණ වර්ණය තමයි ශ්‍රේෂ්ට. අන්‍ය වර්ණය හීනයි, බමුණන් ඒ මහා බ්‍රහ්මයාගේ කටින් තමයි බමුණෝ ඉපදුනේ. අනිත් එවුන් යටිපතුලෙන් ඉපදුනේ. බමුණෝ තමයි උසස්, අනිත් සියලු දෙනා හීනයි නීචයි කියලා එක වනාන්තරයේ හිටපු ඍෂිවරු හත්දෙනෙක් බමුණෝ ශ්‍රේෂ්ටයි කියන අදහසට ආවා. ඉතින් මේක දැක්කා අස්සලායන අසිතදේවල තාපසයා. ඒ අසිත කියන ඍෂීන් වහන්සේ තමයි ඒ වෙනකොට මුළු ජම්බුද්වීපයේම හිටපු

ප්‍රධානම සෘෂීන් වහන්සේ. මහානුභාව සම්පන්න සෘෂීන් වහන්සේ. ඊටපස්සෙ කියනවා ඒ අසිතදේවල තාපසයින් වහන්සේ දිවැසින් දැක්කා අර බමුණො හත්දෙනාට දෘෂ්ටියක් ඇතිවෙලා තියෙනවා ඒ තමයි බමුණො ශ්‍රේෂ්ටයි අන් අය පහත් කියලා. ඊටපස්සෙ අසිතදේවල තාපසයා කලේ වෙස් මාරු කරගත්තා. රැවුල් කපපු මදටිය පැහැති සුදු වස්ත්‍රයක් පොරවාගෙන ලී මිරිවැඩි සඟලක් දාගෙන රන්මුවා සැරයටියක් ගෙන පොඩි ළමයෙක් විදියට අර පන්සලේ හයියෙන් සපත්තු දාගෙන ටකස් ටොකොස් කියලා අරහෙට්ට යනවා, මෙහෙට්ට යනවා පොඩි ළමයෙක් වාගෙ. මොකක් කිය කියාද යන්නෙ. මේ සෘෂිවරු කෝ, කෝ මේ සෘෂිවරු, කොහේ ගිහිල්ලද. මේ සෘෂිවරු දකින්න නෑ නෙව කියලා හයියෙන් කෑ ගගහ පොඩි එකා එහෙ දුවනවා, මෙහෙ දුවනවා. වෙස් මාරු කරගෙන ආවෙ අසිතදේවල තාපසතුමා. බමුණො ශ්‍රේෂ්ටයි අනිත් අය පහත් කියන අදහසේ ඉන්න අර සෘෂිවරුන්ට මේ පන්සලේ මිදුල් වල හයියෙන් අඩි සපත්තු දාගෙන කෝ මේ තාපසයො ටික, කොහේ ගිහිල්ලද කියලා කෑ ගගහ යන පොඩි එක්කෙනා දකින්න ලැබුනා. දකින්න ලැබිලා හිතුනා මේ ගමේ කොල්ලෙක් මේ ඇවිල්ලා සද්ද දදා යනවා. ශ්‍රේෂ්ට බ්‍රාහ්මණයො ඉදිරියේ මෙහෙම හැසිරෙනවාද. මේකා සුන්නද්ධූලි කරලා දාන්න ඕන කියලා මේ අය කල්පනා කරලා සාපයක් කලා, මොකක්ද සාපය, ඒයි වසලය අළු වෙලා පල. පැන් ටිකක් අරගෙන මෙහෙම ගැහුවා අර පොඩි එක්කෙනාගෙ ඇඟට අර හත් දෙනාම තෝ අළු වෙලා පල කියලා. එහෙම වතුර ගහන්න ගහන්න අර ළමයා ලස්සන වෙනවා. සාප කරන්න කරන්න ළමයා ලස්සන වෙනවා. ඊටපස්සෙ අර බමුණො පුදුම වුනා. පුදුම වෙලා බමුණො ටික කියනවා, අහෝ අපේ තාපසකමට මොකක්ද වුනේ, අපේ තාපසකම වඳපීදිලා ගිහිල්ලද. අපේ බඹසර ඵල රහිත වෙලා ගිහිල්ලද. අපි මෙයා අළුවෙලා පල කියලා සාප කරද්දි මේ පොඩි එක්කෙනා ලස්සන වෙනවානෙ, මේක මහා පුදුමයක්නෙ. ඊටපස්සෙ අර පොඩි එක්කෙනා කිව්වා භවතුන්ගේ තපස හිස් දෙයක් නෙවෙයි. භවතුන්ගේ බ්‍රහ්ම චරියාව ඵල රහිත දෙයක් නෙවෙයි. සැබැවින්ම භවත්නි මා කෙරෙහි ඔබ මනසේ යම් ද්වේෂයක් ඇත්ද, ඒ ද්වේෂය අත්හැරලා දාන්න. මං ගැන තරහා හිත් ඇති කරගන්න එපා කිව්වා. ඊටපස්සෙ කිව්වා අපේ හිතේ තරහා අපි නැති කරගන්නම්. කියන්න ඇත්තටම ඔබ කව්ද. ඊටපස්සෙ අපි ඔබෙන් අහන්නෙ කාලදේවල කියන අපේ මහා සෘෂීන් වහන්සේ ඔහේ දැකලා තියෙනවාද, ඊටපස්සෙ අර දරුවා කියනවා, එසේය. මම තමයි කාලදේවල සෘෂිතුමා කිව්වා. ඊටපස්සෙ බ්‍රාහ්මණ සෘෂිවරුන් හත්දෙනා දණ

ගැහුවා. අත්දෙක සිරසේ තියාගෙන සාදුකාර දිදී අසිත තාපසතුමා ඉදිරියේ දණ ගැහුවා. දණ ගහනකොට අසිත තාපසතුමා කියනවා ඍෂිවරුන්ට මට දැනගන්න ලැබුනා, වේද හදාරන ඔබ හත්දෙනා දෘෂ්ටියකට ඇවිල්ලා ඉන්නවා කියලා බමුණො තමයි ශ්‍රේෂ්ට අනිත් අය පහත්, බමුණො කියන්නෙ මහා බ්‍රහ්මයාගේ මුවින් ඉපදුනේ, අනිත් අය යටි පතුලෙන් ඉපදුනේ කියලා මේ බමුණොම ශ්‍රේෂ්ටයි කියලා හිත හිතා ඉන්න එකක් මට දැනගන්න ලැබුනා. හරි මං අහන්නෙ ඔයාලාව බිහිකරපු කියනවා බ්‍රාහ්මණවරුනි, ඔහේලාව බිහි කරපු අම්මා ඔහේලව ඉපැද්දුවෙ බමුණෙක් කරාම ගිහිල්ලා, කියන්නෙ ඔහේලාගේ තාත්තා ඇත්තටම බමුණෙක් ද කියලා ඔහේලා දන්නවාද කියලා ඇහුවා. ඔහේලගෙ අම්මා ගියෙ බමුණෙක් ළඟට විතරයි, වෙන බමුණෙක් නොවෙන කෙනෙක් ගාවට ගියෙ නෑ කියලා ඔහේලා දන්නවද කියලා ඇහුවා. ඒ කියන්නෙ ඉස්සර වෙලා තියෙනවා සාමාන්‍යයෙන් බමුණො ඒ බැමිණියො අත්හැරලා යම්කිසි බ්‍රාහ්මණ කටයුතු වලට ඈත ගම්වලට යද්දි ඒ බැමිණියො ගෙවල් වල වැඩ කරන දාසයොත් එක්ක අඹුසැමියන් විදියට ඉඳලා තියෙනවා. එතකොට ඉපදෙන දරුවා අර බ්‍රාහ්මණයා විවාහ වෙච්චි නිසා දරුවාට බමුණා කියන එක එනවා. නමුත් ඒක ඇතුලේ පැත්තක් තියෙනවා සමහර බැමිණියො අර විදියට කරනවා. ඊටපස්සෙ අසිත තාපසතුමා ඇහුවා ඔහේලා ජාතක වුනේ බමුණෙකුටම කියලා ඔහේලා දන්නවාද. ඔහේලාගේ මව් බමුණෙක් කරා විතරයි ගියේ කියලා ඔහේලා දන්නවද. අනේ අපි දන්නෑ කිව්වා. හරි, ඔහේලාගේ වැදූ අම්මත් හරි පරිස්සම් වෙලා හිටියා කියන්නකො. ඔහේලාගෙ මිත්තණියො හත්මුතු පරම්පරාවක් මිත්තණියො බමුණෙක් එක්ක විතරයි හිටියෙ වෙන එකෙක් එක්ක හිටියෙ නෑ කියලා ඔහේලා දන්නවද, ඊටපස්සෙ කිව්වා අනේ අපි ඒවා දන්නෙත් නෑ. කියනවා භවත්නි ඔබලා ජාතක කල යම් පිය කෙනෙක් ඇත්ද, ඔහු බැමිණියක කරා පමණක් ගිය කෙනෙක්, බමුණෙක් නොවන කෙනෙක් ළඟට ගියෙ නෑ කියලා ඔහේලා දන්නවාද. අනේ ඒක දන්නෙත් නෑ. ඒ කියන්නෙ ජාතක කරපු තාත්තාගේ ලේ පරම්පරාව ඔහේලා දන්නවද කියලා ඇහුවේ. අනේ දන්නෙ නෑ. එයාලගේ පියාගේ සත්වැනි මීමුතු පරම්පරාව දක්වා ලේ කවලම් වෙලා නෑ කියලා ඔහේලා දන්නවාද කියලා ඇහුවා. අනේ ඒවා දන්නෙත් නෑ, ඔය ප්‍රශ්න ටික ඔබගෙනුත් ඇහුවොත් එහෙම අවසානෙට කියන්න තියෙන්නෙ දන්නේ නැත. භවත්නි ඔබලා මව්කුස උපදින ආකාරය දන්නවාද කියලා ඇහුවා. අම්මා කෙනෙක්ගේ බඩට දරුවෙක් එන හැටි දන්නවද කියලා ඇහුවා. කිව්වා ඒක නම් අපි දන්නවා. කොහොමද කියලා

ඇහුවා. ඒ තමයි අම්මා ඍතු වෙන කාන්තාවක් වෙන්න ඕන. ඒ වගේම අම්මයි තාත්තයි දෙන්නා එකතු වෙන්න ඕන. ඒ වගේම විඤ්ඤාණයක්, ගන්ධබ්බයෙක්ගේ පැමිණීමක් කුසට ඕන කියලා කිව්වා. හරි එතකොට අම්මාත් ඍතු වෙන කාන්තාවක් බැමිණියක්. තාත්තත් බමුණෙක්. ඊළඟට අම්මත් බැමිණියක්. හරි එතකොට එන ඒ කුසට එන දරුවා ඉන්නවානෙ. ඒ දරුවා බමුණු කුලෙන්ද එන්නෙ, රජ කුලයෙන්ද එන්නෙ, වෙළඳ කුලයෙන්ද එන්නෙ, ශුද්‍ර කුලයෙන්ද එන්නෙ කියලා ඔහේලා හරියටම දන්නවාද. අනේ ඒක නම් අපි දන් නෑ කියලා කිව්වා. මොන කුලයෙන්ද අම්මාගෙ බඩට ආවෙ කියලා. එතකොට අම්මගෙ පරම්පරාවෙ ලේ කලවම් වෙලා තියෙනවාද නැද්ද කියලා දන්නෙත් නෑ, තාත්තගෙ පරම්පරාවෙනුත් ලේ කලවම් වෙලා තියෙනවාද නැද්ද කියලා දන්නෙත් නෑ, කුසට ආපු දරුවාත් මොන වංශෙන් ආවද කියලා දන්නෙත් නෑ. එහෙම නම් බමුණො ශ්‍රේෂ්ටයි අනිත් අය පහත් කියලා ඔහේලා කොහොමෙයි කියන්නෙ. ඊටපස්සෙ කිව්වා, මෙහෙම කියනකොට කිව්වා, අනේ භවත්නි ඔය විදියට නම් කරුණු කියන්නෙ අපිවත් දන්නෙ නෑ අපි කවුද කියලා. අර බමුණො හත්දෙනාම කිව්වා අපිවත් දන්නෑ කිව්වා අපි බමුණො ද, රජවරුද, වෛශ්‍යයොද, දාසයොද කියලා අපිවත් දන්නෙ නෑ කිව්වා, අසිතදේවල තාපසතුමාට. පින්වත් අස්සලායන, මෙසේ බ්‍රාහ්මණ ඍෂිවරුන් හත්දෙනාට අසිතදේවල තාපසතුමා ජාතිවාදයෙන් කරුණු පෙන්වා දෙද්දි, කරුණු මතුකොට දෙද්දි, ප්‍රශ්න දීගන්න බැරිවුනු අර බමුණො හත්දෙනාටම අසිත තාපසතුමා ප්‍රශ්න අහද්දි ඒයි අස්සලායන සම්මා සම්බුදුවරයෙක් ප්‍රශ්න අහනකොට උඹ කොහොමද ඇහුවා උත්තර දෙන්නෙ. ඔය විදියට නිහඬව තමයි ඉන්න වෙන්නෙ කිව්වා. කොහොම ඉන්න ඇතිද. තාපසයෙක් ප්‍රශ්න අහනකොටත් මහා බමුණො හත්දෙනෙකුටත් කටඋත්තර නැතිව ගියා නම්, සම්මා සම්බුදුවරයෙක් අවුරුදු දාසයක ඉලන්දාරියෙක්ගෙන් ප්‍රශ්න අහනකොට කොහොමද ඇහුවා උත්තර දෙන්නෙ. දැන් කොහොමද බමුණො ටික ආවෙ. අවුරුදු දාසයේ කොල්ලෙක් ලවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ නිරුත්තර කරන්න ඕන කියලා. පුදුම සහගතයි. භාග්‍යවතුන් වහන්සේගේ ප්‍රඥාව, කරුණු සහිත බව, භාග්‍යවතුන් වහන්සේගේ ඥාණය, සත්ත්වයන් දමනය කරන විදිය, හරි පුදුමයිනෙ. ඇඟ සීතල වෙලා යන්න ඇති. එහෙම කියනකොට කිව්වා එම්බා අස්සලායන ආචාර්යවරයන් සහිත වුනු නුඹලා ඒ බ්‍රාහ්මණ ඍෂිවරුන්ගේ යාග හැන්ද ගන්න තරම්වත් උඹලාගේ ගුණයක් නෑ කිව්වා. ඒ කරුණා මෛත්‍රියෙන් ඔද වැඩී ගිය සිත් සහිත පාප ධර්මයෝ බැහැර

කරන මහා බ්‍රාහ්මණයො තමයි යාග කලේ ඉස්සර. දැන් ආචායර්‍යවරු සහිත නුඹලා ඒවාගේ යාග වල අර ගිනි පූජාවට යාග හැන්දෙන් තෙල් ටිකක්වත් ගන්න උඹලා සුදුසු ද කියලා ඇහුවා. මෙසේ වදාළ කල්හි අස්සලායන මානවකයා භාග්‍යවතුන් වහන්සේ ළග දණ්ඩනමස්කාර කලා, මට සමාවෙන්න කියලා. අභික්ඛන්තං භන්තෙ, අභික්ඛන්තං භන්තෙ. සුන්දරයි ස්වාමීනී, සුන්දරයි ස්වාමීනී, භාග්‍යවතුන් වහන්සේ අද මේ කියලා දුන්නු දහම් කරුණු හරියට යටට හැරවිච්ච දෙයක් උඩට හැරෙව්වා වගේ. වැහිලා තිබ්බ දෙයක් ඇරලා පෙන්නුවා වගේ. ඒ වගේම බුදුරජාණන් වහන්සේට කියා හිටිනවා අස්සලායන, අඳුරේ ඉන්න කෙනෙකුට තෙල් පහනක් දල්වනවා, අන්ධකාරේ ඉන්න කෙනෙකුට ඇස් ඇති අයට රූප බලන්න කියලා. නොයෙක් ආකාරයෙන් ධර්මය දේශනා කලා, මම මගේ බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ශ්‍රී සද්ධර්මය සරණ යනවා, ආර්ය මහා සංඝරත්නය සරණ යනවා. එතකොට තෙරුවන් සරණ ගිහිල්ලා එදා ඉඳලා බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් බවට පත්වුනා. ඊටපස්සෙ එදා ඉඳලා උපාසකයෙක්, අස්සලායන. බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ බුදුරජාණන් වහන්සේගේ ධාතූන් වහන්සේ නමක් රහතන් වහන්සේලාගෙන් ඉල්ලාගෙන ඇවිල්ලා මේ අස්සලායන තමන්ගේ බ්‍රාහ්මණ ගමේ තමන්ගේ ගෘහය මැද සාමාන්‍යයෙන් බ්‍රහ්ම පාදය කියලානෙ කියන්නෙ. බ්‍රහ්මයාට වෙන් කරන තැන බමුණො, බ්‍රහ්ම පාදය කියලා කියන්නෙ ඒකට. එතකොට ඒ බ්‍රහ්මපාදයේ බුදුරජාණන් වහන්සේගේ ධාතු තැන්පත් කරලා සෑයක් හදලා උදේ හවස බුදුරජාණන් වහන්සේට වැඳ වැඳ ඉඳලා තියෙන්නෙ අස්සලායන. එදායින් පස්සෙ මම දැක්කා අටුවාව, අටුවාව ලියනකොට බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාලා අවුරුදු ගණනාවක් ගිහිල්ලා. අවුරුදු දහස් ගාණක් පහුවෙලා. ඒ වෙනකොටත් ඉන්දියාවේ අටුවා ලියන කාලෙ වෙනකොටත්, අස්සලායන බ්‍රාහ්මණ වංශයේ සියලූ දෙනා තමන්ගේ ගෙදර මැද ස්තූපයක් හදලා බුදුරජාණන් වහන්සේට වඳිනවාලූ. බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාලා අවුරුදු දහස් ගාණක් යනකොටත්. පුදුම සහගතයි, ඒ පිහිටිය සරණ. තෙරුවන් සරණ ගිය උපාසකයෙක් බවට පත්වුනා අස්සලායන. ජාතිවාදයෙන් නින්දා කරන්නයි ආවෙ. කරුණු සහිතව කියලා දුන්නෙ. ඉතින් පුදුම හිතෙනවා බුදුරජාණන් වහන්සේ සත්ත්වයන් දමනය කරන හැටි. බුදුරජාණන් වහන්සේ මේ වචන කියද්දි, මේ වචන වල බුදුරජාණන් වහන්සේගේ තරහ නෑ, බුදුරජාණන් වහන්සේ තරහව ප්‍රහාණය කරපු කෙනෙක්. ඉරිසියාව නෑ, ක්‍රෝධය නෑ, වෛරය නෑ, ඒ නිසා මෙසේ අනන්ත ගුණ

කඳකින් හෙබි බුදුරජාණන් වහන්සේ මේ සත්ත්වයන් දමනය කලා. ප්‍රඥාවෙන් බැබලුනා. තුන් ලෝකයට කිසි කෙනෙකුට මැඩ පවත්වන්න බැරි මහා ප්‍රඥා ආනුභාවයකින් බැබළෙන, කරුණු සහිතව සොඳුරු දහම් පවසන මගේ බුදුරජාණන් වහන්සේ දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් ශ්‍රී සද්ධර්මය දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ආර්ය මහා සංඝරත්නය මම සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් තිසරණය අපගේ ජීවිතයේ දුක් ගිනි නිවා දමත්වා. සාදු සාදු සාදූ!!!

අද අසිරිමත් සම්බුදු සරණ කැලිෆෝනියාවේ පදිංචි පින්වත් සාගර පාතියගම මහත්මයා දායකත්වය දැරුවේ. අගෝස්තු 18 ජන්ම දිනය සමරන පවන් පාතියගම පුත්‍රයාට සෙත් ප්‍රාර්ථනා කරන්න. ඉතින් අද දවසේ මේ රැස් කරගත්ත අනන්ත අප්‍රමාණ පුණ්‍ය සම්භාරයේ අනුහසින් පවන් පාතියගම පුතාට නිදුක් නිරෝගී සුවත්, අනාගත ජීවිතයත්, අධ්‍යාපන කටයුතුත් සාර්ථක වේවා. අසිරිමත් සම්බුදු සරණේ පිහිට පිළිසරණ ඔබට ලැබේවා. සියලු දෙවියො ආරක්ෂා කරත්වා. බුදු සසුනේ පිහිට ලබත්වා කියලා ඒ පවන් පාතියගම පුතාට අපි සෙත් ප්‍රාර්ථනා කරනවා. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. මියපරලොව ගිය සියලු ඥාතීන්ට මේ පින් අනුමෝදන් වී ඥාතීන් පරලොව සැපයට පත්වේවා. ඒ වාගේම මේ රැස්කරගන්නට යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් අනුමෝදන් වෙත්වා, පරම පූජනීය ගුරු දේවොත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ තිසරණයේ පිහිට පිළිසරණ අපිට පෙන්වා දුන්න උත්තමයා. ඉතින් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂම ලබත්වා. ඒ වගේම මේ රැස්වුනු සියලූම පුණ්‍ය ධර්මයන්ගේ අනුහසින් සකල සඟරුවන, අනගාරිකා මෑණිවරු, පැවිදි අපේක්ෂක දූපුතුන් ගෞතම සසුනේ පිහිට ලබත්වා, ධර්මාවබෝධය ලබත්වා. ඒ වගේම සුජීවත්ව සිටින ඒ.එම්. විජේසිංහ මෑණියන්ට නිදුක් නිරෝගී සුව සැලසේවා. ඒ වගේම සාගර පාතියගම මහත්මයා ඇතුලු පවුලේ සියලු දෙනාට, කොරෝනා රෝගයෙන් පීඩා විඳින රෝගාතුරව සිටින ලක්වැසි ලෝවැසි සියලු දෙනා ඉක්මණින් නිදුක් නිරෝගී සුවපත් භාවය ලබලා මේ උවදුර දුරින්ම දුරු වේවා. අපි කාටත් අසිරිමත් සම්බුදු සරණෙන් සැනසී, ඔබ අප කාටත්, මව් දෙමව්පිය, ඥාතිබන්ධුමිත්‍රාදීන් සියලුදෙනාට ලක්විරු ගුවන් විදුලියේ, ශ්‍රද්ධා රූපවාහිනියේ කාර්ය මණ්ඩලයේ, ධර්මය ශ්‍රවණය කරන ඔබට, සියලු දෙනාට අසිරිමත්

සම්බුදු සරණේ සැනසී බුදුසසුනක පිහිට නම් වූ ඒ උතුම් ධර්මාවබෝධය සලසාගන්න අප්‍රමාණ චිත්ත ප්‍රසාදයෙන් ශාසන පිහිට ළඟා කරගන්න ඔබ අප කාටත් වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=LIQtH_8lK5I&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=85

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂම සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන තුළින් අපි සරණ ගිය අපගේ බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුණ සමුදාය, ඒ කාලෙ බුදුරජාණන් වහන්සේ ඒ සමාජයට මුහුණ දුන්නු ආකාරයෙන්ම ප්‍රකට වෙන ආකාරය, අපිට මේ දහම් වැඩසටහනින් ඉගෙන ගන්න ලැබෙනවා. නුවණැති, පින් ඇති සත්ත්වයාගේ සිත පහන් වෙනවා බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ අහනකොට. එතකොට පින්වත්නි අද දවසේත් ඒ වාගේ බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ, ඒ බුදුරජාණන් වහන්සේගේ ඥාණය, ප්‍රඥාව, නුවණ ගැන ඔබට පැහැදීම පිණිස ලස්සන විස්තරයක් අද ඉගෙන ගන්නෙ. මේ උතුම් දහම් වැඩසටහන ඇමරිකාවේ කැලිෆෝනියා හි පදිංචි පින්වත් සිසිර කුමාර මහත්මයා, වසන්ති චතුරංගනී මහත්මිය, සුදම් අනුත්තර පුතා සහ අමාෂා කළිඳුනී දියණිය විසින් ඒ පවුලේ පින්වතුන් මේ ධර්ම දේශනාවට දායකත්වය දරන්නෙ, බොහෝ පින් රැස් කරගන්නවා මේ පින්වතුන්. මේ ලෝක සත්ත්වයාට පින් කැමැති ගෞතම ශාසනයේ පිහිට ලබනු කැමැති බොහෝ

දෙනාට හිතසුව පිණිස දෙනු ලබන මේ ධර්මදානය දෙන පින් බලයෙන්. ඒ නිසා ඔබ පවුලේ සියලු දෙනාට සම්බුදු සරණින් සෙත් වේවා කියන අදහසින් අද ධර්ම දේශනාව ආරම්භකරනවා. ඉතින් පින්වත්නි අපි විටින් විට මතක් කලා, ඒ සමාජයේ භාග්‍යවතුන් වහන්සේ ලෝකයේ පහළ වෙන කාලයේ, ඒ බමුණන් බමුණු මත ඉදිරිපත් කර කර ඒ බමුණන් සමාජයේ අධිපති වෙලා වාසය කරපු ආකාරය. ඒ කියන්නෙ මතවාද සහ ඒ බමුණු අදහස් එක්ක රජවරු පවා සට්ටනයට ගියෙ නෑ. රජවරු රාජ්‍ය සම්පත්තියෙන් ආඪ්‍ය වෙලා භූමිය පාලනය කලා, මිනිස්සු පාලනය කලා. නමුත් මතවාද දෘෂ්ටි ගොඩාක් ඉදිරිපත් කලේ බමුණෝ. දැන් බලන්න ඒ කාලෙ වෙච්චි දෙයක්, පුදුම සහගත කතාවක් අද අහන්න ලැබෙන්නෙ. මේ සූත්‍ර දේශනාවෙ නම, දීඝ නිකායේ තේවිජ්ජ සූත්‍රය. ත්‍රිවිද්‍යාව කියන එක ගැන තමයි මේ කතාව යන්නෙ. බුදුරජාණන් වහන්සේ පන්සීයක් සඟ පිරිස සමඟ කොසොල් ජනපදයේ චාරිකාවේ වඩිද්දි, මනසාකට කියන කොසොල් රට වැසියන්ගේ බ්‍රාහ්මණ ගමටත් වැඩියා. ඒ කියන්නෙ ගම් පිටින් තිබිලා තියෙනවා බමුණෝ විතරක්ම ඉන්න. ඒ පැත්ත පලාතට ශුද්‍රයන්ට එන්න දෙන්නෑ, පහත් කුලවල මිනිස්සු කියලා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ මනසාකට ගමේ මනසාකටයට උතුරින් අචිරවතී නදීතෙර අඹ වනයේ වැඩ හිටියා. ඒ කාලෙයේ ප්‍රසිද්ධ ප්‍රසිද්ධ සම්භාවනීය බ්‍රාහ්මණයන් ඒ මනසාකට ගමට සම්ප්‍රාප්ත වෙලා. ඒ කියන්නෙ චංකි බ්‍රාහ්මණයා, තාරුක්ක බ්‍රාහ්මණයා - දැන් මං ඉදිරියට අපිට අවස්ථාව ලැබුනොත් කියලා දෙන්නම් කවුද චංකි කියන්නෙ ඒ වගේ. ඉතින් තාරුක්ක බ්‍රාහ්මණයා, පොක්කරසාතී බ්‍රාහ්මණයා - දැන් පොක්කරසාතී ගැන අපි ඉගෙන ගත්තානෙ - ජානුස්‍රෝණි බ්‍රාහ්මණයා, තෝදෙය්‍ය බ්‍රාහ්මණයා මේ පිරිස ප්‍රසිද්ධ සම්භාවනීය බ්‍රාහ්මණයො ඇවිල්ලා මනසාකට ගමේ ඒ අයත් ඉන්නවා. එතකොට වාසෙට්ඨ සහ භාරද්වාජ කියන බ්‍රාහ්මණ වංශික තරුණයන් දෙදෙනා වැල්ලෙ ව්‍යායාම පිණිස සක්මන් කරද්දි දෙදෙනා අතර කතාවක් ඇතිවුනා. එක්කෙනෙක් කිව්වා, ඒ කියන්නෙ වාසෙට්ඨ කිව්වා, පොක්කරසාතී බ්‍රාහ්මණයා තමයි බ්‍රහ්ම ලෝකෙට යන්න හරි මාර්ගය කියන්නෙ. පොක්කරසාතී බ්‍රාහ්මණයා කියන පාර අනුව ගියොත් නම් බ්‍රහ්ම ලෝකෙ ඉපදෙන්නම පුලුවන්, ඒක තමයි හරි පාර. එතකොට භාරද්වාජ බ්‍රාහ්මණ මානවකයා, තරුණයා කිව්වා නෑ තාරුක්ක බ්‍රාහ්මණයා තමයි හරියටම කියන්නෙ. තාරුක්ක බ්‍රාහ්මණයා කියන පාරෙ ගියොත් නම් බ්‍රහ්ම ලෝකෙ ඉපදෙන්න පුලුවන්, ඒක තමයි හරිම පාර. ඉතින් වාසෙට්ඨ ට බැරි වුනා භාරද්වාජට තමන්ගේ කාරණාව ඔප්පු කරලා

කියන්න. භාරද්වාජට බැරිවුනා වාසෙට්ඨට තමන්ගේ කාරණාව ඔප්පු කරන්න. දෙන්නා අතරෙ පොඩ්ඩක් මතභේදයක් ඇතිවුනා. එතකොට වාසෙට්ඨ මානවකයා භාරද්වාජ මානවකයාට කියනවා භාරද්වාජ, ශාක්‍ය පුත්‍ර වූ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මෙතනින් පොඩ්ඩක් උතුරට වෙන්න මනසාකටේ අචිරවතී නදී තෙර අඹ වනයේ වැඩ ඉන්නවා. උන්වහන්සේ තමයි මේවා දන්නෙ. උන්වහන්සේ ගැන කීර්ති ඝෝෂාව හැමතැනම පැතිරිලානෙ තියෙන්නෙ. අරහං, සම්මා සම්බුද්ධයි, විජ්ජාචරණ සම්පන්නයි, සුගතයි, ලෝකවිදූ, අනුත්තර පුරිසදම්ම සාරථී, සත්තා දේවමනුස්සානං, බුද්ධ, භගවා. ඒ කාලෙ එහෙමනෙ පැතිරෙන්නෙ. දැන් යාන්තම් ලොකු ස්වාමීන් වහන්සේට කෝටි වාරයක් පින්සිදු වෙන්න බුදුගුණ ගැන දැන් කතා කරනවා මිසක්කා ඉස්සර බුදුරජාණන් වහන්සේ කියන්නෙ කවුද කියලා ඇහුවොත් මේ පිළිම වල ඇඟිලි සමානව තිබෙන කන් දිග ඒ වාගේ බුදු පිළිමයක් ගැන තමයි කට්ටිය කතා කරන්නෙ. අපිට මතකයිනෙ ඉතින් අපි පුංචි කාලෙ හිටියානෙ. දැන්නෙ මේ බුදුගුණ කතා කරන්නෙ. ඒ කාලෙත් දෙතිස් මහා පුරුෂ ලක්ෂණ ගැන පවා බ්‍රාහ්මණයො සම්මා සම්බුදු කෙනෙක්ද කියලා පරීක්ෂා කරන්න ඒවාගත්තා මිසක්කා බුදුවරු ගැන කතා වෙන්නෙ ගුණ වශයෙන්. අරහං, සම්මා සම්බුද්ධ, ආදී වශයෙන්. ඉතින් උන්වහන්සේ ගාවට ගියොත් නම් මේක හරියටම අපිට අහගන්න පුලුවන්, යමුද කියලා ඇහුවා. කැමති වුනා දෙන්නා. දෙන්නා දැන් කතා වෙලා මේ තරුණයො දෙන්නා බුදුරජාණන් වහන්සේ වැඩ හටිය තැනට ගිහිල්ලා වන්දනා කරලා කියා හිටියා භාග්‍යවතුන් වහන්ස මෙයාලා වන්දනා කලේ නෑ, සතුටින් කතා කරලා, ආගිය වැලගිය තොරතුරු කතා කරලා ඇහුවා, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස, අපි දෙන්නා මේ ඇවිද ඇවිද ඉන්නකොට අපි දෙන්නා අතර කතාවක් ඇති වුනා, ඒ තමයි දැන් මෙයා කියනවා, මේ වාසෙට්ඨ කියනවා පොක්කරසාතී තමයි හරියට බ්‍රහ්මලෝකෙ යන්න පාර කියන්නෙ කියලා. එතකොට මට නමුත් විශ්වාසයක් තියෙනවා, තාරුක්ක බ්‍රාහ්මණයා තමයි හරියට බ්‍රහ්ම ලෝකෙ යන්න පාර කියන්නෙ. ඒ නිසා අපි දෙන්නට මේක තීරණයක් ගන්න බැරිව පොඩි මතවාදයක් ඇතිවුනා. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස, අපි මෙන්න මේක ගැන ඔබවහන්සේත් එක්ක කතා කරන්න ආවෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ ඇහුවා වාසෙට්ඨ, දැන් මොකක්ද ප්‍රශ්නය මෙතන තියෙන. දැන් දෙන්නගේ ගැලපෙන් නැති කතාව මොකක්ද මෙතන. එතකොට වාසෙට්ඨ කියනවා ගෞතමයන් වහන්ස, අපි දෙන්නට තියෙන ප්‍රශ්නෙ තමයි මග නොමග. ඒ කියන්නෙ බ්‍රහ්ම ලෝකෙට

යන්න තියෙන හරි පාර මොකක්ද කියන එක ගැන තමයි අපි දෙන්නට ප්‍රශ්නෙ. ඉතින් කියනවා බ්‍රාහ්මණවරුන්ගේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස, බ්‍රාහ්මණ වරු එක එක පාරවල් කියනවා. ඉතින් අද්දරිය බ්‍රාහ්මණ මතය, තිත්තිරිය බ්‍රාහ්මණ මතය, චන්දඋදක බ්‍රාහ්මණ මතය, ඊළඟට බහුරිචා බ්‍රාහ්මණ මතය කියලා එක එක බ්‍රාහ්මණයො එක එක මත ඉදිරිපත් කරනවා. ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස ගමකට වුනත් යන්න ගොඩක් පාරවල් තියෙනවානෙ. ඒ වාගේ ඔය බමුණො ඔක්කොම කියන පාරවල් හරි. ඔක්කොම බ්‍රහ්ම ලෝකෙට යන්න තමයි තියෙන්නෙ කිව්වා. එතකොට අපි දෙන්න මේ කතා වුනේ කෙලින්ම යන පාරක් ගැන. බුදුරජාණන් වහන්සේ වදාළා, පින්වත් වාසෙට්ඨ ඒ සෑම මාර්ගයක්ම බඹලොව ඉපදීම පිණිස පවතිනවා කියලාද කියන්නෙ. එහෙමයි ගෞතමයන් වහන්ස, ඔය හැම පාරකින්ම බ්‍රහ්ම ලෝකෙට ගියහැකි. වාසෙට්ඨ හැම පාරකින්ම බ්‍රහ්ම ලෝකෙට ගියහැකි කියලද කියන්නෙ. ඔව් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස, හැම පාරකින්ම බ්‍රහ්ම ලෝකෙට ගියහැකි. වාසෙට්ඨ ඔය හැම පාරකින්ම බ්‍රහ්ම ලෝකෙ යන්න පුලුවන් කියලද කියන්නෙ. ඔව් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස හැම පාරකින්ම බ්‍රහ්ම ලෝකෙට යන්න පුලුවන් කිව්වා. බුදුරජාණන් වහන්සේ තුන් වතාවක් එයාගේ වචනය ඇහුවා. ඔයා මෙහෙමද කියන්නෙ කියලා. තුන් වතාවම කිව්වා හැම පාරකින්ම බ්‍රහ්ම ලෝකෙට ගියහැකි කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාළා වාසෙට්ඨ එහෙනම්, මේ බලන්න බුදුරජාණන් වහන්සේගේ නුවණ. ඇත්තටම මේ කතාවකටත් වැඩිය වැදගත් වෙන්නෙ, මට හිතෙන විදිය මං මේ කියන්නෙ, බුදුරජාණන් වහන්සේගේ නුවණ. එතකොට ත්‍රිවේදය පාරප්‍රාප්ත බමුණො ඉන්නවානෙ, ඔය බමුණන්ගෙන් එක්කෙනෙක්වත් ඉන්නවද බ්‍රහ්මයා දැකපු කෙනෙක්. අනේ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස එක්කෙනෙක් වත් නම් නෑ, ඔය බමුණො අතර බ්‍රහ්මයා දැකපු කෙනෙක්. හරි වාසෙට්ඨ, ඔය බමුණන්ගේ ත්‍රිවේදය ඔයාලට උගන්වන බ්‍රාහ්මණයන්ගේ ගුරුවරු ඉන්නවානෙ, ඒ ගුරුවරු දැකලා තියෙනවාද බ්‍රහ්මයා. අනේ ස්වාමීනී ඒ අයත් බ්‍රහ්මයාව දැකලා නෑ. හරි, ඔය ගුරුවරුන්ගෙත් ගුරුවරු ඉන්නවානෙ. ඒ ඇත්තන්ට කියනවා ප්‍රාචාර්‍ය්‍ය. මහාචාර්‍ය්‍ය වගේ. දැන් ප්‍රාචාර්‍ය්‍යවරු ඉන්නවානෙ. ඒ අය දැකලා තියෙනවාද ඔය මහා බ්‍රහ්මයා. අනේ එහෙම නෑ. ඉතින් මේ පින්වත් වාසෙට්ඨ එතකොට ත්‍රිවේදය ඇති බමුණො වත් ආචාර්‍ය්‍ය පරම්පරාවෙ හත්මුතු පරම්පරාවකවත් ඔයාලට ඔය වේද බමුණු උගන්නව මත උගන්වන අයගෙන් පරම්පරා හතක්වත් ආපස්සට මහා බ්‍රහ්මයා දැකපු කෙනෙක් ඉන්නවාද කියලා ඇහුවා.

අනේ නෑ ගෞතමයන් වහන්ස, කවුරුවත් බ්‍රහ්මයා දැකලා නෑ. එතකොට වාසෙට්ඨ ත්‍රිවේදයේ මන්ත්‍ර හදපු, මන්ත්‍ර නිර්මාණය කරපු, මන්ත්‍ර පවසපු පූර්ව ඍෂිවරු ඉන්නවානෙ. ඒ කියන්නෙ අට්ඨක, වාමක, වාමදේව, විස්සමිත්ත, යමතග්ගී, අංගීරස, භාරද්වාජ, වාසෙට්ඨ, කස්සප, භගු කියලා ඔය වේදය හදපු ඍෂිවරු ඉන්නවානෙ. ඔයාලා ඒ අය හදපු මන්ත්‍ර ඒ විදියටමනෙ දැන් ඔයාලා ඔය කියන්නෙ. එතකොට වාසෙට්ඨ ඒ මන්ත්‍ර හදපු ඒ අට්ඨක, වාමක, යමතග්ගී, අංගීරස ආදී ඒ ඍෂිවරුවත් ඔය වේදයේ කොතැනක හරි ලියලා තියෙනවාද අපි මහා බ්‍රහ්මයා දැක්කා. අපි මහා බ්‍රහ්මයා දකිනවා කියලා කොතනකවත් ලියලා තියෙනවාද. අනේ වේදයේ කිසිම තැනක එහෙම නෑ කිව්වා. එහෙමනම් වාසෙට්ඨ කිසීම කෙනෙක් බ්‍රහ්මයා දැකලත් නැත්නම්, වේදයේ බ්‍රාහ්මණවරු හරි, ආචායර්‍යවරු හරි, ප්‍රාචායර්‍යවරු හරි, ඔය වේද මන්ත්‍ර ලියපු අය හරි කවුරුවක්වත් බ්‍රහ්මයෙක් දැකලා නෑ, ඊටපස්සෙ දැන් මහා බ්‍රහ්මයා ගැන දන්නෙත් නෑ, නමුත් බමුණො කියන්නෙ මෙන්න බ්‍රහ්ම ලෝකෙට යන පාර. මෙන්න බ්‍රහ්ම ලෝකෙට යන පාර කියලා පාරවල් කියනවා, එකෙක්වත් බ්‍රහ්මයා දැකලා නෑ. පින්වත් වාසෙට්ඨ, මේ කුමක්ද මේ හිතන්නෙ. ඔය විදියට නම් කරුණු යෙදෙන්නෙ මේකයි බ්‍රහ්ම ලෝකයට යන මාර්ගය කියලා ඔය එක එක්කෙනා බ්‍රහ්ම ලෝකයට යන පාර කියාගෙන යනකොට ඒ කතාවේ ඇති වැඩක් තියෙනවාද, ආනුභාවයක් තියෙනවාද ඇහුවා, පිළිගැනීමක් තියෙනවාද කියලා ඇහුවා ඔය කතාවට. ගෞතමයන් වහන්ස, ඔය විදියට නම් කරුණු යෙදෙන්නෙ කතාවට පිළිගැනීමක් නෑ. මොකද එක්කෙනෙක්වත් බ්‍රහ්ම ලෝකෙ දන්නෙත් නෑ, බ්‍රහ්ම ලෝකෙ පාර දන්නෙත් නෑ. මේ බ්‍රහ්මයෙක් දැකලත් නෑ, නමුත් පාරක් කියනවා. හොඳයි වාසෙට්ඨ, වාසෙට්ඨ ඔය විදියට නම් තියෙන්නෙ කවුරුහරි මාර්ගයකුත් දේශනා කරනවා නම් මේකයි මාර්ගය, මේකයි ඒකාන්ත මාවත, මේකයි බ්‍රහ්ම ලෝකය කරා යන මාවත කියලා ඒක වෙන්න පුලුවන් දෙයක් නෙවෙයි. මොකද ඒ ඇත්තො බ්‍රහ්ම ලෝකෙවත් මහා බ්‍රහ්මයාවත් දැකලා නෑ. ඕක හරියට උපමාවකින් කිව්වොත් වාසෙට්ඨ මේ වගේ. ඒ තමයි සැරයටිය අරගත්ත අන්ධ පරපුරක් ඉන්නවා. ඒ හැරමිටි අරගත්තු අන්ධ පරපුරෙන් ඉස්සරහා යන එකත් පාර දන්නෑ, මැද යන එකත් පාර දන්නෑ, අවසානෙට යන එකා පාර දන්නෙත් නෑ, අන්ධයො යන ගමනක් වගේ. ඒක ලාමක දෙයක්, සිනහවට ලක්වෙන දෙයක්, හිස් දෙයක්, තුච්ඡ දෙයක්. කොහොමද බමුණො සීතල වෙලා යන්න ඇති. හරි වාසෙට්ඨ, කුමක්ද මේ ගැන හිතන්නෙ. සඳහිරු දෙදෙනාම පේනවා නේ. පේනවා. ඒ

සඳහිරු දෙන්නා නැගෙනවා බහිනවා ඉරහඳ නැගෙනවා බහිනවා පේනවා නේ, එතකොට උඹලා වදිනවානෙ ඉරට හඳට? වදිනවා. ඉර හඳ බහිනකොටත් වදිනවා නේද. බිම පෙරලිලා බඩගාලා ස්තූති ප්‍රශංසා කරනවා නේද. කරනවා කිව්වා. එතකොට වාසෙට්ඨ, ඉරහඳ නැගෙනවා පේනවා, බහිනවා පේනවා. උඹලා ඒ ඉරට හඳට දොහොත් මුදුන් දී වදිනවා. ඉතින් වාසෙට්ඨ ඒ ඇහැට පේන්න තියෙන ඉරට හඳට පවා වදිනකොට පුදනකොට සත්කාර කරනකොට උඹලගේ කිසිම වේද පොතක ඉර සමඟ එකතු වෙන්නෙ මෙහෙමයි, සඳ සමඟ එකතු වෙන්නෙ මෙහෙමයි කියලා පාරක් කියලා තියෙනවාද. ඉර දෙවියන් එක්ක එකතු වෙන්න, සඳ දෙවියන් එක්ක එකතු වෙන වැඩපිළිවෙලක් කියලා තියෙනවාද බමුණු පොතක? අනේ නෑ කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා ඇහැට පේන්න තියෙන ඉරයි හඳයි සමඟ එකතු වෙන්න පාරක් කියාගන්නවත් බැරි නම්, බ්‍රහ්මයෙක් දැකලත් නෑ, බ්‍රහ්මලෝකයක් දැකලත් නෑ, කොහොමද ඇහුවා බ්‍රහ්ම ලෝකෙට යන්න පාරක් කියන්නෙ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා හරි වාසෙට්ඨ, කුමක්ද මේ ගැන හිතන්නෙ. ඉතින් ඔය විදියට නම් කරුණු යෙදෙන්නෙ ඔය බමුණෝ, පොක්කරසාතී වෙන්න පුලුවන්, තාරුක්ක වෙන්න පුලුවන්, චංකි වෙන්න පුලුවන්, කවුරුහරි, ඔය බමුණෝ මෙයයි මාර්ගය බ්‍රහ්ම ලෝකෙට, මෙයයි මාර්ගය බ්‍රහ්ම ලෝකෙට කියලා කියන කතාවේ කිසිම වැදගැම්මක් තියෙනවාද. වැදගත්කමක් තියෙනවාද, ආනුභාවයක් තියෙනවාද කියලා ඇහුවා. අනේ ස්වාමීනී ඔය විදියට කරුණු යෙදෙනකොට නම් ආනුභාවයක් නෑ කිව්වා. පුදුම සහගතයි. ඊටපස්සෙ කියනවා හොඳයි පින්වත් වාසෙට්ඨ එය ඒකාන්තයෙන්ම ත්‍රිවේදයේ බ්‍රාහ්මණයෙක්, යම් බ්‍රහ්මයෙක් හෝ දන්නෙ නැත්නම්, දකින්නෙ නැත්නම්, ඔහු හා එක්වීම පිණිසම, ඒ වුනාට බ්‍රහ්ම ලෝකෙ බ්‍රහ්මයා දන්නෙ නෑ, දකින්නෙ නෑ, නමුත් බ්‍රහ්ම ලෝකෙ යන්න පාර කියනවා. මේකමයි ඒකාන්ත මාවත, මේකමයි බ්‍රහ්මයාගේ ලෝකය කරා යන මාවත කියලා, ඒක වාසෙට්ඨ වෙන්න පුලුවන් දෙයක් නෙවෙයි. වාසෙට්ඨ මං ඒකට උපමාවක් කියන්නම්. එක මනුස්සයෙක් කියනවා මං අහවල් ජනපදයේ රූප සුන්දරියක් ඉන්නවා නම් ඇයට මං කැමැතියි, ඇයට මං ආසයි කියලා. රූප සුන්දරියක් ගැන කිය කියා ඉන්නවා කොල්ලෙක්. එතකොට අනිත් අය අහනවා, එම්බා පුරුෂය, ඔය රූප සුන්දරියට උඹ කැමැති නම් කියාපං ඔය රූප සුන්දරී රජ කුලයේ කෙනෙක්ද, බමුණු කුලයේද, ක්ෂත්‍රිය ද, ශුද්‍ර ද කවුද අනේ දන් නෑ, එතකොට කොයි ගමේද ඉන්නෙ. අනේ දන්නෑ. ඒ රූප සුන්දරිය උසයිද, දිගයි ද පළලයිද මහතයි ද?

දන්නෑ, ඒකිගේ නම මොකක්ද? දන්නෑ. දැකලා තියෙනවාද, නෑ, ඒ අය රත්තරන් පාටයි ද, සුදු පාටයි ද, කළු පාටයි ද, දන්නෙ නෑ. ඒකිට කතා කරන්න පුලුවන් ද, ගොළුයි ද, අන්ධයි ද, බිහිරියි ද. දන්නෙ නෑ. මොකවත් දන්නෙ නෑ. හැබැයි උඹට රූප සුන්දරිය ඕන ද. ඕන. ඉතින් අහනවා වාසෙට්ඨ මේ ගැන මොකක්ද හිතන්නෙ. මේ මනුස්සයාගේ කතාවේ වැඩක් තියෙනවාද කියන්නකො. වාසෙට්ඨ කිව්වා අනේ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස ඒ මනුස්සයාගේ කතාවේ කිසි වැඩක් නෑ, වාසෙට්ඨ ඔය විදියමයි, ත්‍රිවිද්‍යා වේද දන්න බමුණොවත් ඒ අයගේ ආචාර්‍යවරුවත්, ප්‍රාචාර්‍යවරුවත්, අට්ඨක, වාමක, වෙස්සාමිත්ත, යමතග්ගි, අංගීරස ආදී වේද ලියපු අයවත් බ්‍රහ්මයා දැකලත් නෑ, බ්‍රහ්ම ලෝකෙ දන්නෙත් නෑ, නමුත් වේද ඉගෙනගත්තු බමුණො කියනවා වේද පොත් ලියපු අයවත් කියන්නෑ, අපි බ්‍රහ්මයා දන්නවා, දකිනවා කියලා. මේ වේදය ඉගෙන ගත්තු අය කියනවා, මෙන්න බ්‍රහ්මලොකොට යන පාර, මෙන්න මාවත කියලා. ගැලපෙනවාද කියලා ඇහුවා. අනේ ස්වාමීනී ඕවා ගැලපෙන එකක් නෙවෙයි කිව්වා. හරි වාසෙට්ඨ, තවත් මං කියලා දෙන්නම්. වාසෙට්ඨ දැන් මේ බමුණො කියනවානෙ වේදය ඉගෙන ගත්තු බමුණො මේකයි බ්‍රහ්ම ලෝකෙට ඒකායන මාවත, මේකයි බ්‍රහ්ම ලෝකෙ කරා යන මාවත කියලා. ඒක වෙන්න පුලුවන් දෙයක් නෙවෙයි. ඔන්න හතරමං හන්දියක මනුස්සයෙක් මං උපමාවකින් කියන්නම්. හතරමං හන්දියක මනුස්සයෙක් ඉණිමඟක් හදනවා උඩතට්ටුවට යන්න. ඉතින් එයාගෙන් අනිත් අය අහනවා දැන් උඹ ඉණිමගක් හැදුවො මොකටද, උඩතට්ටුවට යන්න. උඩතට්ටුව තියෙන ගේ කොහෙද තියෙන්නෙ. දන්නෑ, උතුරෙද, දන්නෑ. දකුණෙද, දන්නෑ. කොයි දිශාවෙද, දන්නෑ. ඔය මාළිගාවෙ තට්ටු කීයක් තියෙනවාද, දන්නෑ, මාළිගාවේ උස කීයද, පළල කොච්චර ද, දන්නෑ. මොකවත් දන්නෑ, එහෙනම් ඔය ඉණිමෙග මොකටද, උඩතට්ටුවට නගින්න. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා හරි ඔය විදියට නම් කරුණු යෙදෙන්නේ වාසෙට්ඨ, වේදය ඉගෙන ගත්ත අය බ්‍රහ්මයා දැකලත් නැත්නම්, මේ අය බ්‍රහ්ම ලෝකයට ඒකායන මාර්ගය කියලා ඔය බමුණො කියන කතාවල වැදගත්කමක් තියෙනවාද, පිළිගැනීමක් තියෙනවාද, කරුණු සහිත ද? අනේ නෑ ස්වාමීනී. ඊටපස්සෙ කියනවා වාසෙට්ඨ, හරි ඔය විදියට නම් කරුණු යෙදෙන්නෙ වාසෙට්ඨ කුමක්ද මේ ගැන හිතන්නෙ. ඒකාන්තයෙන්ම ත්‍රිවේද බ්‍රාහ්මණයො යම් බ්‍රහ්මයෙකුව දන්නෙත් නැත්නම්, දකින්නෙත් නැත්නම් නමුත් මේකමයි මාර්ගය, මේකමයි ඒකායන මාර්ගය කියලා ඔය කියන කතාව වෙන්න පුලුවන් දෙයක් නෙවෙයි.

පින්වත් වාසෙට්ඨ, ඒක මේ වගේ දෙයක්. අචිරවතී නදිය වතුරෙන් පිරිලා කටමට්ටමට ඇවිල්ලා තියෙන්නෙ. ඉවුරේ හිටගෙන කපුටෙකුට වුනත් වතුර බොන්න පුලුවන්. ඔතනට පුරුෂයෙක් ඇවිල්ලා එතෙරට යන්න ඕන එයාට. එයා මොකද කියන්නෙ. අනේ එතෙර මෙහෙට්ට වරෙන්. අනේ එතෙර මෙහෙට්ට වරෙන් කියලා අර පුද්ගලයා එතෙරට අඬගහනවා. ඔහුගේ අඬගැසීම, යාඥාව, පැතීම හේතු කරගෙන අචිරවතී නදියේ එතෙර මෙතෙරට එනවාද කියලා ඇහුවා. අනේ ස්වාමීනී එහෙම වෙන්නෙ නෑ. එහෙනම් පින්වත් වාසෙට්ඨ ඔන්න ඔය වගේමයි ත්‍රිවේද බ්‍රාහ්මණවරු බ්‍රාහ්මණ බවට පමුණුවන යම් ධර්මයක් ඇත්නම් ඒ ධර්මයන් බැහැර කරලා අබ්‍රාහ්මණව ඉඳගෙන ධර්මයකුත් නැතිව, ඒ ධර්මයක් සමාදන් වෙලා පුරුදු කරන්නෙත් නැතිව, අබ්‍රාහ්මණ, බමුණන්ට නොවන කටයුතු කර කර කියනවා අපි දැන් ඉන්ද්‍ර දෙවියා කැඳවනවා. අපි දැන් සෝම දෙවියා කැඳවනවා. අපි දැන් බ්‍රහ්ම දෙවියාව කැඳවනවා. මහේන්ද්‍ර දෙවියාව කැඳවනවා. යාම දෙවියාව කැඳවනවා කියලා අර දෙවියාට මේ දෙවියාට අර බ්‍රහ්මයාට, මේ බ්‍රහ්මයාට ගිනි වලට යාග හැඳි වලින් තෙල් දම දමා අපි දැන් දෙවියො බ්‍රහ්මයො කැඳවනවා කියලා යාඥා කරනවා ගාථා කියනවා, මන්ත්‍ර පද කියනවා. එයිද කියලා ඇහුවා. බමුණු චාරිත්‍රයක්, බමුණු දහමක් අභ්‍යන්තර ගුණධර්මයක් පුරුදු කරලා මාවතක් මොකවත් නැතිව දෙවියන්ට අඬගැහුවට එයිද කියලා ඇහුවා. අනේ ස්වාමීනි එහෙම වෙන් නෑ කිව්වා. අද කාලෙත් එහෙමනෙ සමහර ස්ත්‍රීන් ඉන්නවා, නටන්න තියෙන නාඩගම් ඔක්කොම ටික නටාගෙන ගිහිල්ලා කරදරයක් වුනාම ගිහිල්ලා පත්තිනි දේවාලෙ පඬුරක් ගැටගහනවා. හොඳට කල්පනා කරන්න. ඒ වාගේ, එතකොට තමන් තුළ මොනවත් ඊට අදාල ගුණධර්මයක් මොකක්වත් නැතිව ගිහිල්ලා දෙවියන්ට යාඥා කලා කියලා ඇත්තටම ඒක දෙවිවරුන්ට පේනවද. දැනෙනවාද. ඒ නිසා මේ කාරණාවෙන් තේරුම් ගන්න තියෙන්නෙ බුදුරජාණන් වහන්සේම දේශනා කරනවා. බමුණො බමුණු දහමේ සිටින් නැතිව ඒ බමුණු දහම මොකක්ද කියලා ඉදිරියට විස්තර කරනවා. අබ්‍රාහ්මණවම සිටියදී දෙවියන්ට බඹුන්ට කතා කරනවා, ඒක හරියට වතුර පිරුණට පස්සෙ අචිරවතී නදියේ මෙතෙර ඉඳලා මනුස්සයෙක් එතෙරට කෑගහලා කියනවා මෙතෙරට වරෙන් කියලා. කවදාවත් එතෙර මෙතෙරට එන් නෑ. පින්වත් වාසෙට්ඨ, අචිරවතී නදිය වතුරෙන් පිරිලා කටමට්ටමට ඇවිදින් කපුටන්ට වුනත් ඉවුරෙ ඉඳන් වතුර බොන්න පුලුවන් තත්වෙට පත්වෙලා. ඔන්න කෙනෙකුට එතෙර යන්න ඕන. එතෙර වීමක් හොයන එතෙර යනු කැමැති කෙනෙක් මෙතෙරින්

ඉන්නවා, එහා පැත්තට යන්න ඕන. හැබැයි මෙයා මෙතෙරට තියලා දැන් අතපය ඔක්කොම දම්වැලකින් ගැටගහලා තියෙන්නෙ. දැන් එහා පැත්තට යන්න ඕන. නමුත් මෙහාපැත්තෙ අතපය දම්වැලකින් ගැටගහලා. දැන් පුලුවන්ද ඇහුවා එගොඩට යන්න. අනේ ස්වාමීනී බෑ. පින්වත් වාසෙට්ඨ ආයෙ මේ අතපය ගැටගහපු දම්වැල කියලා කියන්නෙ පඤ්චකාමයට. මොකක්ද වාසෙට්ඨ පඤ්චකාමය කියන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා පඤ්චකාම ගුණ පහක් තියෙනවා. ඉතා යහපත්, සුන්දර, මනාප, ඉෂ්ටකාන්ත, මනාප, ප්‍රිය ස්වභාවයෙන් පවතින කාමරාගය ඇතිකරවන, කෙලෙස් ඇති කරවන ඇසින් දකින රූප තියෙනවා. කණින් අහන ශබ්ද තියෙනවා. නාසයෙන් විඳින ගඳ සුවඳ තියෙනවා. කයෙන් විඳින පහස තියෙනවා. මේවා තමයි කිව්වා පඤ්චකාමය. ඉතින් පින්වත් වාසෙට්ඨ, ඕක තමයි කිව්වා අතපය ගැටගහන දම්වැල. ත්‍රිවේධ බ්‍රාහ්මණයා මේ පඤ්චකාම ගුණයෙහි ගිජු වෙලා මුසපත් වෙලා එහිම බැසගෙන ඒ පඤ්චකාමයන් ගැන ආදීනව නොදැක එය අත්හැරීමේ ප්‍රඥාවෙන් තොරව තමයි ඒවා පරිභෝග කරන්නෙ. එතකොට බමුණො බ්‍රහ්මලෝකෙ යන්න හිතාගෙන ඉන්නවා. පඤ්චකාමය තුළම ඉන්නවා. ගඟෙන් එතෙර වෙන්න ඕන. මේ පැත්තෙ දම්වැලෙන් ගැට ගහලා. වාසෙට්ඨ, ත්‍රිවේද බ්‍රාහ්මණවරු බ්‍රාහ්මණ බවට පත්කරවන ධර්මයක් ඇත්නම් එයින් බැහැර වෙලා අබ්‍රාහ්මණව සිටියදී පඤ්චකාමයන්ගේ ආදීනව නොදැක ඒකෙම මුසපත් වෙලා පරිභෝග කර කර කාම බන්ධනයේ බැඳිලා ඉඳගෙන බ්‍රහ්මයා සමඟ එකතු වෙන්න යනවා, බ්‍රහ්ම ලෝකෙට යනවා කියන එක සිද්ධ වෙන්නේ නැත. වාසෙට්ඨ මේ වගේ දෙයක්. අචිරවතී නදිය වතුරෙන් පිරිලා තියෙනවා, කට මට්ටමට. එතකොට එතෙරට යන්න කෙනෙක් කැමැතියි. එතකොට එයා මොකද කරන්නෙ. එතෙරට යන්න එයා ආසයි. නමුත් මෙතෙර මුළු ඇඟම රෙද්දකින් වහගෙන ගුලිවෙලා බුදි. වැතිරිලා ඉන්නවා. ඉතින් කියන්නෙ කොහොමද, ගඟෙන් එතෙරට යන්න ඕන නම් එතෙරට යන්න ඕන එක්කෙනා මෙහෙ මුළු ඇඟම පොරවගෙන ගුලිවෙලා නිදියාගෙන ඉන්නකොට මෙයා එතෙරට යයිද. ස්වාමීනී බෑ. ආන්න ඒ වගේ තමයි, මුළු ඇඟම රෙද්දකින් වහගෙන ගුලිවෙලා ඉන්නවා කියලා කියන්නෙ පඤ්ච නීවරණ වලට. කාමච්ඡන්ද, ව්‍යාපාද, ථීනමිද්ධ, උද්ධච්ච කුක්කුච්ඡ, විචිකිච්ඡා. කාමච්ඡන්ද කියන්නෙ කාම අරමුණු කෙරෙහි තියෙන කැමැත්ත. ව්‍යාපාද කියන්නෙ තරහක් ඇතිවෙන ස්වභාවය. ථීනමිද්ධ කියන්නෙ නිදිමත නැත්නම් අලසකම. උද්ධච්ච කුක්කුච්ච කියන්නෙ හිත විසිරීම, පසුතැවීම. විචිකිච්ඡා කියන්නෙ

කෙසේද, කෙසේද කියලා හිතේ ඇතිවන සැකය. එතකොට මේකෙන් වැහිලා තියෙන්නෙ. එයාට හරියට පේන් නෑ, එතකොට පඤ්චකාමයෙන් වැළකිච්චි කෙනෙක් වුනත් කාමයෙන් වැළකිලා, බ්‍රහ්මචාරී ජීවිතයක් ගත කරන කෙනෙක් වුනත් පඤ්චනීවරණ වලින් බැට කනවා නම් ඔහු දම්වැල් වලට ගැටගැහිලා නැති වුනාට මුළු ඇඟම රෙද්දකින් පොරවාගෙන ඉන්නෙ. මෙයාට එතෙර මෙතෙර පේන් නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා එහෙම ඉදගෙන නම් එතෙරට යන්න බෑ වගේ පඤ්ච නීවරණ වලින් වැසිච්ච හිතක් තියෙන කෙනෙකුට බ්‍රහ්ම ලෝකෙ යන්න බෑ. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා වාසෙට්ඨ, කුමක්ද නුඹ මේ ගැන හිතන්නෙ. වයෝවෘද්ධ මහළු ආචාර්‍ය්‍ය ප්‍රාචාර්‍ය්‍ය බ්‍රාහ්මණයො කියන වචන නුඹලා අහලා නැද්ද. ඒ කියන්නෙ බ්‍රහ්මයා ස්ත්‍රීන් සමඟ එක්ව ඉන්න කෙනෙක්ද, ස්ත්‍රීන් හා එක්ව නැති කෙනෙක්ද. බ්‍රහ්මයා කියන්නෙ ගෑණු සමඟ වාසය කරන කෙනෙක්ද, නැති කෙනෙක්ද කියලා ඇහුවා. ඊටපස්සෙ කියනවා ස්වාමීනී මහා බ්‍රහ්මයා ස්ත්‍රීන් පරිභෝග කරන්නෙ නෑ. හරි එතකොට මහා බ්‍රහ්මයා කියන්නෙ හිත පීඩාවට පත්වෙලා ඉන්න කෙනෙක්ද, හිතේ පීඩාවක් නැතිව නිදහස් ශාන්ත සිතකින් ඉන්න කෙනෙක්ද. අනේ පීඩාවක් නැති නිදහස් ශාන්ත සිතකින් ඉන්න කෙනෙක්. එතකොට බ්‍රහ්මයා කියලා නුඹලා අහලා තියෙන්නෙ ඒ බ්‍රහ්මයාගේ හිත කිලිටි වෙච්ච කෙනෙක්ද, හිත කිලිටි නැති කෙනෙක්ද. ස්වාමීනී හිත කිලිටි නැති කෙනෙක්. එතකොට වාසෙට්ඨ නුඹ මොකක්ද හිතන්නෙ බ්‍රහ්මයා කියන්නෙ තමන්ගෙ හිත තමන්ගේ වසඟයට ගන්න පුලුවන් කෙනෙක් ද, නැත්නම් හිතට යටත් වෙන කෙනෙක්ද. එතකොට මහා බ්‍රහ්මයා කියලා කියන්නෙ නම් හිත තමාගේ වසඟයට ගත්ත කෙනෙක්. හරි වාසෙට්ඨ, දැන් ඔන්න නුඹම කිව්වා, දැන් කියන්න. ඔය නුඹලාගේ වේද කියන බමුණො ස්ත්‍රීන් එක්ක එකට ඉන්නවාද නැද්ද. ස්වාමීනී බමුණො ස්ත්‍රීන් එක්ක ඉන්නවා. හරි බමුණො වෛර නැති සිතින් ඉන්නවාද, වෛරයෙන් ඉන්නවාද. ස්වාමීනී බමුණො වෛරයෙන් ඉන්නෙ. හරි, එහෙනම් කියන්න බලන්න, පීඩා නැති හිතින් ඉන්නවාද, පීඩා සහිත සිතින් ද ඉන්නෙ. අනේ ස්වාමීනී බමුණො පීඩාවෙන් ඉන්නෙ. හරි, එහෙනම් බමුණො කිලිටි හිතෙන් ද ඉන්නෙ, කිලිටි නැති හිතෙන් ද ඉන්නෙ. ඊටපස්සෙ කිව්වා ස්වාමීනී බමුණො කිලිටි හිතෙන් ඉන්නෙ. බමුණන්ට තමන්ගේ හිත වසඟයට ගන්න පුලුවන්ද. හිතේ වසඟයට බමුණො නටනවාද ඇහුවා. අනේ ස්වාමීනී බමුණො හිතට අනුව නටනවා. එහෙනම් වාසෙට්ඨ කියන්න ස්ත්‍රී ඇසුරක් නැතිව ඉන්න බ්‍රහ්මයාගේ ලෝකයට

යන්න, ස්ත්‍රීන් ළඟ තියාගෙන, ස්ත්‍රීන් උපස්ථාන ලබ ලබා, ස්ත්‍රීන්ගෙන් සතුටු වෙන මේ බමුණෝ කොහොමද මහා බ්‍රහ්මයා ළඟට යන්නෙ. වාසෙට්ඨ, වෛර නැති සිතකින් ඉන්න බ්‍රහ්මයා ළඟට වෛරයෙන් ඉන්න බමුණෝ කොහොමද යන්නෙ. වාසෙට්ඨ, දුක් නැති හිතකින්, පීඩා නැති හිතකින් ඉන්න බ්‍රහ්මයා ළඟට පීඩාවෙන් දැවි දැවී ඉන්න බමුණෝ කොහොමද යන්නෙ. වාසෙට්ඨ තමාගේ හිත තමා වසඟයට අරන් අධිපති වෙලා පවත්වන මහා බ්‍රහ්මයා ළඟට හිතට අනුව නටන මේ වේද ඉගෙන ගත්තු බ්‍රාහ්මණයො කොහොමද යන්නෙ කියලා ඇහුවා. කොහොමද කරුණු සහිත බව. නුවණ. ඊටපස්සෙ කිව්වා, ඒක නම් එහෙම වෙන්නෙ නම් නෑ තමයි කිව්වා. ඊටපස්සෙ කිව්වා කිලිටි නැති හිතින් ඉන්න බ්‍රහ්මයා ළඟට කිළිටි හිත් තියෙන මේ බමුණෝ කොහොමද යන්නෙ කියලා ඇහුවා. අනේ ස්වාමීනී ඒක වෙන් නෑ. ඊටපස්සෙ කියනවා වාසෙට්ඨ, හරි, එහෙනම් තේරුම් ගන්න කිව්වා, ත්‍රිවේද බ්‍රාහ්මණවරු නොමඟට පැමිණිලා කාම මඩේම එරිලා, කාම මඩේ දුකට පත්වෙලා ඉන්නෙ. දිය සිඳුන වියළි බිමක අත්පා ගසමින් පිහිනන අය වගේ වෙහෙසෙන්නෙ. ඔය බමුණෝ බ්‍රහ්ම ලෝකෙ යන්න ඕන කියලා ඔය වෙහෙසෙනවා නේද. ගොඩේ පීනනවා වගේ කිව්වා. වැල්ලෙ පීනනවා වගේ කිව්වා. වතුර නෑ. ඒ අයගේ ඒ නිසා ත්‍රිවේද බමුණන්ගේ ඔය ත්‍රිවිද්‍යාව කටු වනයක්. ඔය විද්‍යාව මහා කැලයක්. ඔය විද්‍යාව මහා විපත්තියක්. මෙසේ වදාළ විට වාසෙට්ඨ මානවකයා භාග්‍යවතුන් වහන්සේට කිව්වා ස්වාමීනී අපි අහලා තියෙනවා බ්‍රහ්ම ලෝකෙට යන හරි පාර නම් භාග්‍යවතුන් වහන්සේ දන්නවා කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා වාසෙට්ඨ, මනසාකට කියන ගම මේ ළඟ නේද තියෙන්නෙ. එහෙමයි ස්වාමීනී, මේ ළඟ. ඔය මනසාකට ගමේ කෙනෙක් ඉපදිලා, හැදුනු වැඩුනු පුරුෂයෙක් ආවොත් එහෙම එයාගෙන් කවුරුහරි ඇහැව්වොත් එහෙම මනසාකට ගමට යන්නෙ කොහොමද කියලා එයාට උත්තර දෙන්න බැරිද, වැටහෙන් නැතිද. උත්තර නැතිව යාවිද, ගෞතමයන් වහන්ස, මනසාකට ගමේ උපන් හැදුනු වැඩුනු කෙනාට කවුරුහරි ඇහුවොත් එයාට හොඳට තේරුම් කරලා කියන්න පුලුවන්. වාසෙට්ඨ, මනසාකට ගමේ උපන් හැදුනු වැඩුනු කෙනාට ඒ ගමට යන්න පාර අහද්දි උත්තර දෙනකොට පොඩ්ඩක් පැටලෙන්න පුලුවන්. පොඩ්ඩක් ප්‍රමාද වෙන්න පුලුවන්. පොඩ්ඩක් හිතන්න පුලුවන් එයා. ඒත් තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගෙන් බ්‍රහ්ම ලෝකෙ යන්න පාර ඇහැව්වොත් එහෙම එහෙම පැටලෙන්නේ නැත. ප්‍රමාද වෙන්නේ නැත. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා මහා බ්‍රහ්මයා ගැනත් මම දන්නවා. මහා

බ්‍රහ්මයාගේ ලෝකෙත් දන්නවා. බ්‍රහ්ම ලෝකෙට යන ප්‍රතිපදාවත් දන්නවා. යම් ප්‍රතිපදාවකින් යුක්ත වූ කෙනෙක් බඹලොව උපදිනවා නම් ඔහු ගැනත් දන්නවා, මේ කෙනා නම් බ්‍රහ්ම ලෝකෙ යනවා කියලා. මෙසේ වදාළ විට වාසෙට්ඨ මානවකයා භාග්‍යවතුන් වහන්සේට කියා හිටියා, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්ස, දේශනා කරන්න. ඒ බ්‍රහ්මයා සමඟ එක්වෙන පාර අපිට කියලා දෙන්න. ඒ මාවත කියලා දෙන්න. බ්‍රාහ්මණ දරුවන් වන අපි මේ මගෙන් ඔසවා උල්ලුම්පතමං භන්තෙ. ස්වාමීනී මාව ඔසවලා අපිව බ්‍රහ්ම ලෝක පාරෙ තියන්න. අපි බ්‍රහ්මයන්ගේ දරුවො විදියට ඒ පාරෙ යන්න ඕන. බුදුරජාණන් වහන්සේ වදාළා එහෙනම් කන් යොමා අහන්න. භාග්‍යවතුන් වහන්සේගේ කාරුණික බව. බුදු කෙනෙක් ලෝකෙට පහළ වෙන්නෙ නිවන් අවබෝධ කරවන්න. සත්ත්වයා සතර අපායෙන් මුදවලා, ආර්ය සත්‍යය අවබෝධ කරවලා, ඒ සත්ත්වයාට අමා මහ නිර්වාණ මාර්ගය දේශනා කරන්න බුදු කෙනෙක් පහළ වෙන්නෙ. නමුත් බලන්න මට බ්‍රහ්ම ලෝකෙට යන්න පාර දේශනා කරන්න කියනකොට හරි, කන් යොමු කරගෙන අහන්න. බුදුරජාණන් වහන්සේ වදාළා ලෝකෙට කලාතුරකින් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙනවා. උන්වහන්සේ අරහං, සම්මා සම්බුද්ධයි, විජ්ජාචරණ සම්පන්නයි, සුගතයි, ලෝකවිදූ, අනුත්තර පුරිසදම්ම සාරථී, සත්තා දේවමනුස්සානං, බුද්ධ, භගවා. සො දම්මං දෙසෙති ආදි කල්‍යාණං මජ්ජෙ කළ්‍යාණං පරියොසාන කල්‍යාණං සාත්තං සභ්‍යන්ජනං කෙවල පරිපුණ්ණං, මුළුමනින්ම පිරිසිදු මුල, මැද, අග පිරිසිදු ශ්‍රී සද්ධර්මය දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකෙ දේශනා කරනවා. ඒ ධර්මය අහන ඕනම කුලයක ගෘහපතියෙක් හෝ ගෘහපති පුත්‍රයෙක් ධර්මය අහලා ශ්‍රද්ධාවට පත්වෙනවා. ඔහු කල්පනා කරනවා නිවන් මාර්ගය පරිපූර්ණ වශයෙන් වඩන්න නම් ගොඩාක්ම ලේසි තැන තමයි පැවිදි ජීවිතය කියලා. ඒ එක්කෙනා පැවිදි වෙනවා. ආර්ය වූ සීලස්කන්ධයෙන් යුක්ත වෙනවා. අනුමාත්‍ර වරදේ පවා බිය දකිමින් වාසය කරනවා. ඊටපස්සෙ සීල සංවරයෙන්. චූල සීල, මජ්ඣිම සීල, මහා සීල කියලා සීලය තියෙනවා ලස්සනට සිල්පද දියුණු කරන හැටි, ඒ සීලයේ හික්මෙනවා. ඊටපස්සෙ කුසල් සහගත කාය කර්ම, වචී කර්ම වලින් යුක්ත වෙනවා. පිරිසිදු ආජීවයෙන් යුක්ත වෙනවා. සිල්වත් වෙනවා. අකුසලයෙන් වැළකූ දොරටු ඉන්ද්‍රියන් සංවරයෙන් යුක්ත වෙනවා. නුවණින් සලකා ආහාර ගන්නවා. සිහි නුවණින් යුක්තව ලද දෙයින් සතුටු වෙලා ඉන්නවා. එහෙම ලද දෙයින් සතුටු වෙලා ඔයවිදියට ගුණධර්ම මේ භික්ෂුව පුරුදු කරනකොට මේ භික්ෂුව විවේක

සෙනසුන් ඇසුරු කරනවා. විවේක සෙනසුන් ඇසුරු කරලා පඤ්ච නීවරණ වලින් හිත දුරු කරගන්නවා. එතකොට පඤ්ච නීවරණ වලින් හිත දුරු කිරීම අපි මීට කලින් දේශනා වල ඉගෙන ගත්තා. හරියට පඤ්ච නීවරණ වලින් හිත දුරු වෙනවා කියලා කියන්නෙ, ණයකින් නිදහස් වුනා වගේ. ඊළඟට දාස භාවයෙන් නිදහස් වුනා වගේ. ලෙඩකින් නිදහස් වුනා වගේ. ඊළඟට හිරේ විලංගුවේ වැටුනු එකෙන් නිදහස් වුනා වගේ. ඊළඟට කාන්තාරයෙන් එතෙර වුනා වගේ. ඒ පඤ්ච නීවරණ වලින් හිත නිදහස් වෙනකොට ඒ ඇතිවෙන සැපයත් එක්ක හොඳට ප්‍රමෝදය, පාමොජ්ජය උපදිනවා. පාමොජ්ජයේ හිත ඉපදුනාම ප්‍රීතිය ඇතිවෙනවා. ප්‍රීති මනස්ස කායො පස්සම්භති, ප්‍රීතියෙන් හිත යුක්ත වෙනකොට කය සංසිඳෙනවා. පස්සද්ධ කායො සුඛං වේදෙති. සැපයක් විඳිනවා. කය සංසිඳුනාම. සැහැල්ලු වුනාම. සුඛිනො චිත්තං සමාධියති. සැපවත් හිත එකඟ වෙනවා. අන්න ඒ එකඟ වෙච්චි හිතෙන් මෛත්‍රිය පතුරවනවා, දස දිශාවට. උතුර, නැගෙනහිර, දකුණ, බටහිර, උතුර, නැගෙනහිර අනුදිසා, දකුණු අනුදිසා, බටහිර අනු දිසා, උතුරු අනු දිසා, උඩ, යට. දස දිශාවටම මෛත්‍රිය පතුරවනවා. ඉමේ සත්තා අවේරා හොන්තු, මේ සත්ත්වයො වෛර නැත්තෝ වෙත්වා. අනේගා හොන්තු, දුක් නැත්තො වෙත්වා. වෛර තරහ නැත්තො වෙත්වා. සුඛිනො භවන්තු, සුවපත් වෙත්වා. සුවපත් වෙත්වා කියලා මෛත්‍රිය වඩනවා. ඊටපස්සෙ ඒ විදියට බුදුරජාණන් වහන්සේ වදාළා අප්‍රමාණව වඩනවා. ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා ඔය විදියට වඩන ලද මෛත්‍රී චිත්ත විමුක්තියෙන් ප්‍රමාණවත් පරිදි කරන ලද යම් කර්මයක් ඇත්නම් ඒක ඉතුරු වෙන් නෑ, එහි යට යනවා. එහි මෛත්‍රිය හොඳට වඩනකොට ඒ හිතේ ප්‍රමාණකෘත කර්ම, ඒ කියන්නෙ රාගයෙන් යටපත් වෙලා ද්වේෂයෙන් යටපත් වෙලා, මෝහයෙන් යටපත් වෙලා කරපු කර්ම පිහිටන් නැතිව මෛත්‍රී හිතම පිහිටනවා. ඒ මෛත්‍රී චිත්ත විමුක්තිය බ්‍රහ්මයා හා එක්වෙන මාර්ගයයි. අන්න ඒ මෛත්‍රිය තියෙන කෙනා බ්‍රහ්මයත් එක්ක එකතු වෙනවා. එතකොට දැන් මෛත්‍රී චිත්ත විමුක්ති කියනවානෙ. එතකොට මෙතන මෛත්‍රී චිත්ත විමුක්තිය කියලා කියන්නෙ හොඳටම බලන්න, එයා ඒ මෛත්‍රිය වඩනවා නීවරණ නැති හිතින්. නීවරණ නැති සිතින් මෙත්සිත පැවැත්වීම තමයි මෛත්‍රී චිත්ත විමුක්තිය කියලා කියන්නෙ. එතකොට එයාගේ හිතේ ප්‍රමාණිකෘත කර්ම, මේ කාම ලෝකයේ ඇඳ බැඳ තබන කර්ම යටපත් වෙලා බ්‍රහ්මලෝකයේ උපත පිණිස පවතිනවා. එතකොට වාසෙට්ඨ තවත් දුරට විස්තර කරනවා. ඇයි දැන් මේ බ්‍රහ්ම ලෝකෙ ගියොත් එහෙම මෛත්‍රියෙන් කල්පයක් බ්‍රහ්ම ලෝකෙ.

ඊටපස්සෙ වාසෙට්ඨ තවදුරටත් කියනවා නම් භික්ෂුව කරුණා සහගතව, කරුණා කියන්නෙ පරදුක්ඛෙ හදයං කම්පේතීති කරුණා, අන් අයගේ දුකේදී හිත කම්පා වෙන ගතිය. එතකොට අනේ මේ සත්තුන්ට සත්ත්වයන්ට කරදරයක් වෙන්න එපා, දුකක් වෙන්න එපා, හිංසාවක් වෙන්න එපා කියලා අන් අයට දුකක් කරදරයක් පීඩාවක් හිංසාවක් වෙන්න එපා කියලා හිත පවත්වනවා. කරුණාව. ඒකත් දස දිසාවටම. ආන්න බුදුරජාණන් වහන්සේ වදාළා නීවරණ නැති සිතින් ඒ කරුණා සිතිවිලි පවත්වනකොට ඒ කරුණා චිත්ත විමුක්තිය. එතකොට මේ කාම ලෝකෙ ඇද බැඳ තබන ප්‍රමාණකෘත කර්ම යටපත් වෙනවා, ඒ කරුණා සහගත චිත්ත විමුක්තිය බ්‍රහ්මයා හා එක්වන මාර්ගයයි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඔය විදියටම භික්ෂුව ඉන්නවා මුදිතා සහගත. මුදිතාව කියන්න අන්‍යයන්ගේ සැපය සැප වාසයට කැමැතියි. අනේ මේ අය ආයුෂයෙන් වැඩෙත්වා, වර්ණයෙන් වැඩෙත්වා, සැපයෙන් වැඩෙත්වා, බලයෙන් වැඩෙත්වා, මේ අය ශ්‍රද්ධා සීල ආදී ගුණධර්ම වලින් වැඩෙත්වා. මේ අයට යහපතක් වේවා, මේ අයට කරදරයක් නොවේවා කියලා අනිත් අයගේ දියුණුව කැමැතියි. ඒ සිත පවත්වනවා හොඳට දිසා දහයටම. ඒකට කියනවා මුදිතා චේතොවිමුක්තිය කියලා. එතකොට කාමලෝකයේ ඇද බැඳ තබන ඒ පටු සහගත කර්ම යටපත් වෙනවා. ඒ මුදිතා සහගත චිත්ත විමුක්තිය මුල් කරගෙන බුදුරජාණන් වහන්සේ දේශනා කලා මුදිතා චේතොවිමුක්තිය බ්‍රහ්මයා හා එක්වන මාර්ගයයි. බ්‍රහ්මයා සමඟ එකතුවෙනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දැන් වදාළා, මේකෙ උපමාවක් වදාළේ, මෛත්‍රිය ආදිය වඩන හැටි. ඒ තමයි බලවත් පුරුෂයෙක් හක්ගෙඩියක් අරගෙන උතුරු දිශාවට හැරිලා පිඹිනවා. එතකොට ඒ හඬ උතුරු පැත්තෙම පැතිරිලා යනවා. ඒ වගේ දිශාව උතුරු දිශාවට කියලා හිතින් අරමුණු අරගෙන මෛත්‍රීය පතුරුවනවා. එතකොට ඒක කෙළවරක් නෑ, කොතනද ඒ මෛත්‍රිය නවතින්නෙ කියලා කතාවක් නෑ, ඊටපස්සෙ තියෙනවා උපෙක්ෂා සහගත සිත වඩනවා, තවත් ඉදිරියට කිව්වොත්. ඒ කියන්නෙ මේ සත්ත්වයා කර්මය දායාද කරගෙන ඉන්නෙ. කම්මස්සකා. කර්මය දායාද කරගෙන ඉන්නෙ. හොඳක් කලොත් හොඳ විපාක, නරකක් කලොත් නරක විපාක. යමක්ද වපුරන්නෙ, එයයි නෙලන්නෙ. ඒ නිසා උපෙක්ෂා හිත පතුරනකොට බුදුරජාණන් වහන්සේ වදාළා එයා නීවරණ රහිත හිතින් උකේෂාව පතුරවනකොට චිත්ත විමුක්තිය, කාම ලෝකයේ ඇද බැඳ තබන පටු සහගත කර්ම යටපත් වෙනවා. ඊටපස්සෙ එයාට බ්‍රහ්මලෝකයේ විපාක විඳීම පිණිස තමයි කර්ම සකස් වෙන්නෙ. ඉතින්

ඒ උපෙක්ෂා සහගත චිත්ත විමුක්තියක් ඇත්ද, ඒක තමයි බ්‍රහ්මයා හා එක්වෙන මාර්ගය. ඉතින් පින්වත් වාසෙට්ඨ මේ ගැන මොකක්ද හිතන්නෙ. ඔය විදියට වාසය කරන භික්ෂුව ස්ත්‍රීන් සමඟ එක්වෙයිද. ඔය විදියටම සීල සමාධි ප්‍රඥා විදියට ඔය විදියට වඩාගෙන මෛත්‍රී කරුණා මුදිතා උපෙක්ෂා විදියට නම් ඔය විදියට නම් ජීවිතය වඩන්නෙ ධ්‍යාන වඩන්නෙ ඒ භික්ෂුව ස්ත්‍රීන් සමඟ ඉන්නවාද. අනේ නෑ ස්වාමීනී, දැන් ඒ භික්ෂුවගේ හිතේ වෛරය තියෙනවාද. නෑ ස්වාමීනී. ඔය භික්ෂුවගේ හිතේ පීඩා තියෙනවාද, නෑ ස්වාමීනී. ඔය භික්ෂුවගේ හිත කිළිටි වෙලාද. නෑ ස්වාමීනී. ඔය භික්ෂුව තමාගේ හිත වසඟ කරගෙන නැත්ද, වසඟ කරගෙන නොවෙයිද ඉන්නෙ, නෑ ස්වාමීනී වසඟ කරගෙනයි ඉන්නෙ. එහෙනම් වාසෙට්ඨ ස්ත්‍රී ඇසුරක් නැති බ්‍රහ්මයන්ගේ ලෝකයට යන්න ඒ භික්ෂුවට පුළුවන්නෙ. ඊළඟට කියනවා වෛරී නැති හිතකින් ඉන්න බ්‍රහ්මයන්ගේ ලෝකයට යන්න වෛරී නැති හිත් පවත්වන ඒ භික්ෂුවට පුළුවන්නෙ. ඊළඟට පීඩා නැති සිතින් ඉන්න කිලිටි නැති හිතින් ඉන්න, තමන්ගේ හිත වසඟයට ගත්ත ඒ භික්ෂුවට ඒ ගුණධර්ම වලින් යුතු බ්‍රහ්මයන්ගේ ලෝකයට යන්න බැරිද කියලා ඇහුවා. පුලුවන් ස්වාමීනී. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා ඔක සිදුවිය හැකි දෙයක්. මේක දේශනා කරනකොටම වාසෙට්ඨ හා භාරද්වාජ දෙදෙනා කියා හිටියා, අභික්ඛන්තං භන්තෙ, අභික්ඛන්තං භන්තෙ. සුන්දරයි නෙව ස්වාමීනී, හරිම ලස්සනයි ස්වාමීනී, මේක නම් යටට හැරවිලා තිබ්බදෙයක් උඩට හැරෙව්වා වගේ. ස්වාමීනී මේක නම් වැහිලා තිබ්බ දෙයක් ඇරලා පෙන්නුවා වගේ. පාර වැරදිච්ච කෙනෙකුට පාර පෙන්නුවා වගේ. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, මේ කාරණාව නම් අපේ ජීවිතයට ඇස් ඇත්තෝ රූප දකිත්වා කියලා පහනක් දැල්වූවා වගේ. දැන් ඒ උපමාවෙ පවා ලස්සන අර්ථයක් තියෙනවා. ඇස් ඇත්තො, චක්ඛුමන්තො රූපං දක්ඛිංතීති අන්ධකාරෙ තෙලපජ්ජොතං ධාරෙ චක්ඛුමන්තො රූපං දක්ඛිංතීති. අන්ධකාරෙ පහනක් දල්වනවා ඇස් ඇත්තො රූප දකිත්වා කියලා. බුදු කෙනෙක් දහම් දේශනා කරනකොට අඳුරේ ඉන්න මිනිස්සුන්ට, ඒ කියන්නෙ මිනිස්සුන්ට ඇහැක් තියෙන්න ඕන. නැත්නම් කොහොමෙයි පේන්නෙ. සසරේ පූරිත පිනක් තියෙන්න ඕන. යෝනිසොමනසිකාරය තියෙන්න ඕන. බුදුරජාණන් වහන්සේ පහන දැල්වූවාට පස්සෙ වටපිට බලන්න. බුදුවරු දහම් දේශනා කරලා පහන දල්වද්දි අහන මිනිස්සු අන්ධයි නම් රූප පේන්නේ නැත. ඊටපස්සෙ මේ දෙන්නා කිව්වා භාග්‍යවතුන් වහන්සේ දිවිහිමියෙන් සරණ යනවා. ශ්‍රී සද්ධර්මය සරණ යනවා,

ආර්ය මහා සංඝරත්නය සරණ යනවා. දිවි තිබෙනතුරාවට තෙරුවන් සරණ ගිය උපාසකයන් සේ අපිව සළකත්වා කියලා මේ දෙන්නා වැඳ වැටුනා. මේ දෙන්නා පස්සෙ කාලෙක ඇවිල්ලා මහණ වෙනවා. අර්හත්වයටත් පත්වෙනවා. අපි ඉදිරියේදි කතා කරමු ඒවා. බලන්න බුදුරජාණන් වහන්සේ මේ මත කණ්ඩනය කරන හැටි කරුණු සහිතව. කාටවත් ගරහන් නැතිව හේතු සහිතව කියනවා. පුදුම ප්‍රඥාවක්, පුදුම නුවණක්, පුදුම ශාස්තෘ සම්පත්තියක්, පුදුම විශාරද බවක්. පුදුම භය නැති බවක්. පුදුම විදියට ධර්මය ප්‍රකට කරන බවක්. පුදුම සහගතයි. මේ ශාස්තෘන් වහන්සේ අපිට සරණ යන්න ලැබුනානෙ. ඒ ධර්මය අපිටත් අහන්න ලැබුනානෙ. ඒ සඟරුවන ගැන අපිටත් අහන්න ලැබුනානෙ. සංසාරෙ මොන පිනක්ද මේ, සිතාගත හැකි කුසලයක් ද පිනක්ද මේ විපාක දෙන්නෙ. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් ශ්‍රී සද්ධර්මය දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් ආර්ය මහා සංඝරත්නය දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් තිසරණය අපගේ ජීවිතේ දුක්ගිනි නිවා දමත්වා.

අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ අමෙරිකාවේ කැලිෆෝනියා හි පදිංචි පින්වත් සිසිර කුමාර මහත්මයා, වසන්ති චතුරංගනී මහත්මිය, සුදම් අනුත්තර පුතා සහ අමාශා කළිඳුනී දියණිය විසින්. ඉතින් මේ පින්වතුන් ඉතාමත් වටිනා පිනක් අද ධර්ම දානයෙන් රැස් කරගන්නවා. ඉතින් මේ සියලු දෙනා රැස් කරගත්ත පින සියලු දෙවියො අනුමෝදන් වෙලා මේ සියලුදෙනා ආරක්ෂා කරත්වා. මියගිය ඥාතීන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. විශේෂයෙන් සිසිර කුමාර මහත්මයාගේ මියපරලොව ගිය හීන්බණ්ඩා පියාණන්ට සහ ඥාණවතී මැණියන්ට චතුරංගනී මහත්මිය නමින් මියගිය මාලනී මැණියන්ට මේ පින් අනුමෝදන් වේවා. මියගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා. මේ පරම පිවිතුරු උතුම් ශ්‍රී සද්ධර්මය අපිට කියලා දෙන මේ ධර්මය අපිට සරල සිංහලෙන් පරිවර්තනය කරලා අපිට හොඳට ඒ දහම් කරුණු කියවන්න ඉගෙන ගන්න අහන්න සැලැස්වූ අපගේ පරමපූජනීය ගුරු දෙවිඳුන්ට මේ පින් අනුමෝදන් වේවා, නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සඟරුවනටත්, අනගාරිකා මැණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් මේ පින් අනුමෝදන් වී මේ පින් බලයෙන් ධර්මාවබෝධයම සැලසේවා. චතුරංගනී මහත්මියගේ පියාණන් වන ඩී.ජී. සිරිල් මහත්මයාට මේ පින් අනුමෝදන් වී

නිදුක් නිරෝගී දීර්ඝායුෂ වේවා. ඒ වගේම සිසිර කුමාර මහත්මයා වසන්ති චතුරංගනී මහත්මිය, සුදම් අනුත්තර පුතා, අමාශා කළිඳුනී දියණියට ඒ වගේම මේ පින්වතුන්ගේ ගුරුවරුන්ට, සහෝදර සහෝදරියන්ට, මේ පින් ඒකාන්තයෙන් අනුමෝදන් වී නිදුක් නිරෝගී සුව ගෞතම සසුනේ පිහිට ලැබේවා. ඔබ අපි කාටත් මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන් විදුලියෙන් ධර්මය ඉගෙන ගන්න සියලු දෙනාට කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. අසිරිමත් සම්බුදු සරණින් සැනසී සංසාර දුකින් නිදහස් වෙන්න ඔබට මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=WARLuI7miyE&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=86

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන ඔබ අද දවසේ ශ්‍රවණය කරන්නට මේ සූදානම් වෙන්නෙ. අපේ බුදුරජාණන් වහන්සේගේ ජීවිතය ගැන පුදුම හිතෙනවා, ධර්මයට පුදුම විදියට පැහැදීමක්, සංඝයා ගැන පැහැදීමක් ඇතිවෙනවා මේ තථාගත ශ්‍රී සද්ධර්මය කියවනකොට. ඉතින් අදත් ඔබට ඒ වගේ විස්තරයක් අහන්න ලැබෙනවා. අද මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නේ ඉතාලියේ මිලානෝ නුවර පදිංචි පින්වත් පූජිත හඳුන්නෙත්ති මහත්මයා, ඒ වගේම වසන්ති ගුරුනාද මහත්මිය සහ

වත්මී හඳුන්නෙත්තී දියණිය විසින්. ඉතින් අගෝස්තු මස 20 වෙනි දිනට උපන්දිනය සමරන අනුමී හඳුන්නෙත්තී දියණියට ආශිර්වාද කරන්න තමයි මේ ධර්ම දේශනාව සිද්ධ කරන්නෙ. සකල ලෝකවාසී ශ්‍රී සද්ධර්මය ශ්‍රවණය කරනු කැමැති පිනැත්තන් හට බුදුරජාණන් වහන්සේගේ ශ්‍රී සද්ධර්මය අහන්න සලස්වන පින් බලයෙන්, ඒ අනුමී හඳුන්නෙත්ති දියණියට සියලු ආශිර්වාද රැකවරණය, පවුලේ සියලු දෙනාට සැලසේවා කියන ආශිර්වාදය පෙරටු කරගෙන අද අපේ ධර්ම දේශනාව ආරම්භ කරනවා. පින්වත්නි මීට කලින් අපි දහම් වැඩසටහනක ඉගෙන ගත්තා වාසෙට්ඨ, භාරද්වාජ කියන බ්‍රාහ්මණ තරුණයන් දෙදෙනා මුල් කරගෙන ඇතිවෙච්ච දහම් කාරණාවක්. ඒ සූත්‍ර දේශනාවේ නම තේවිජ්ජ සූත්‍රය. ඒ කාරණාවට හේතුව ඒ දෙදෙනා අතර කතාවක් ඇතිවුනා බ්‍රහ්ම ලෝකෙට යන්න මාර්ගය කොහොමද. ඉතින් එක්කෙනෙක් පොක්කරසාතී බ්‍රාහ්මණයාගේ ශිෂ්‍යයෙක්. අනෙත් එක්කෙනා තාරුක්ක බ්‍රාහ්මණයාගේ ශිෂ්‍යයෙක්. ඔවුන් තම තමන්ගේ ආචායර්‍යවරු කියන මාර්ගය හරියි කියන තැන හිටියේ. ඉතින් බුදුරජාණන් වහන්සේ බ්‍රහ්ම ලෝකය ගැන කියද්දි ඇහුවා ඔබවත් ඔබගේ ආචායර්‍යවරුවත්, ප්‍රාචායර්‍යවරුවත් ඔය වේද ලියපු අට්ඨක, වාමක, වෙස්සාමිත්ත, යමතග්ගී, අංගීරස ආදී ඒ ඍෂිවරුවත් බ්‍රහ්මයා දැකලා තියෙනවාද කියලා. ඉතින් කවුරුවත් බ්‍රහ්මයා දැකලා නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා මේ ජේන ඉර හඳට බ්‍රාහ්මණයො වඳිනවා. නමුත් ජේන ඉර හඳ හා එක්වෙන්න ඉර හඳ සමඟ වාසය කරන්න මාවතක් කියන්න පුලුවන්ද කියලා. මාවතක් කියන්න බෑ. ජේන දේකටවත් යන්න මාවතක් කියන්න බැරි නම් නොපෙනෙන බ්‍රහ්මයෙක් ගාවට, නොදැක්ක බ්‍රහ්මයෙක් ගාවට යන්න පාර කොහොමද ඔය බමුණො කියන්නෙ කියලා ඇහුවා. ඊටපස්සෙ හරී ලස්සනට විස්තර කලා. බමුණො දැන් ජීවත් වෙන හැටි, මහා බ්‍රහ්මයාගේ ජීවිතය, එතකොට ඒ ජීවිතයි මේ ජිවිතයි ගැලපෙනවාද කියලා, ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ නමක් ලෝකෙ පහළ වෙලා මාවත දේශනා කරන හැටි, භික්ෂූන් වහන්සේලා බ්‍රහ්ම ලෝකයේ උපත සිද්ධ කරගන්න හැටි. ඉතින් මේවා ලස්සනට විස්තර කලා. ඇත්තටම තේවිජ්ජ සූත්‍රය අහලා ඒ වාසෙට්ඨ, භාරද්වාජ දෙදෙනා ගොඩාක් පැහැදිලා ඒක මුල්කරගෙනම පස්සෙ කාලෙ පැවිදි වෙනවා. ඒ තේවිජ්ජ සූත්‍රයේ බුදුරජාණන් වහන්සේ මුණ ගැහෙන්න වාසෙට්ඨ, භාරද්වාජ දෙදෙනා යන්න හේතුව ඊට කලින් බුදුරජාණන් වහන්සේ මුණගැහුනා. මට හිතුනා මේ දේශනාව කරද්දි ඒ වාසෙට්ඨ භාරද්වාජ දෙදෙනා කලින් කොහොමද බුදුරජාණන් වහන්සේට

මුණගැහිලා තියෙන්නේ කියලා ඒ විස්තරය මේ පින්වතුන්ට කියලා දෙන්න ඕන කියලා. මේ විස්තර තියෙන්නෙ වාසෙට්ඨ සූත්‍රය, මජ්ඣිම නිකාය. මජ්ඣිම නිකායේ දෙවෙනි පොත් වහන්සේගේ. ඒ දවස්වල භාග්‍යවතුන් වහන්සේ වැඩ සිටියේ ඉච්ඡානංගල ගමේ ඉච්ඡානංගල කියන වන පියසේ. ඒ දිනවල ඉතාමත් ප්‍රසිද්ධ වූ සම්භාවනීය බ්‍රාහ්මණයන් ඉච්ඡානංගල ගමේ වාසය කලා. ඒ තමයි චංකි බ්‍රාහ්මණයා, තාරුක්ක බ්‍රාහ්මණයා, පොක්කරසාතී බ්‍රාහ්මණයා, ජානුස්‍රෝණි බ්‍රාහ්මණයා, තෝදෙය්‍ය බ්‍රාහ්මණයා මේ වාගේ ප්‍රභූ බ්‍රාහ්මණවරු. ඉතින් ඇයි මේ බමුණො ගැන මෙච්චර ඉස්මතු කරන්නෙ. එච්චර බමුණො ආක්‍රමණය කරලා තිබ්බා ඉන්දියන් සමාජය. භාග්‍යවතුන් වහන්සේ පහළ වෙන කාලෙ බමුණො සමාජ ආධිපත්‍යය ගන්න පුදුම විදියට වෙහෙසිලා තියෙනවා. ශුද්‍රයන් නැත්නම් පහත් මිනිස්සු යැයි සලකා ඒ මිනිස්සු හරියට පාගලා තියෙනවා. ඉතින් ඔය ශුද්‍රයන් කියලා වෙන් කරලා ඔවුන්ට වෙනම ගම් තිබ්බා. ඒ ශුද්‍රයන් වේද කිව්වොත් එහෙම වේද පාඨයක් හරි දිව කපනවා. ඒ වගේම ශුද්‍රයන් යන පාරෙ වෙනම පිටිපස්සෙන් කොස්සක් වගේ එක්ක බැඳගෙන යන්න ඕන තමන්ගේ අඩිපාර මැකෙන්න. බමුණන්ගේ ගම හරහා ශුද්‍රයො යනවා නම් කෙළමාලාව කියලා බෙල්ලෙ වෙනම ලබුකැටයක් වගේ එකක් එල්ලගෙන යන්න ඕන, ඒකට කෙළ ගහන්න ඕන. බිමට කළෙ ගහන්න බෑ. බමුණන්ගේ ගම්වල තියෙන පොකුණු වලින් වතුර බොන්න තහනම්. බමුණන්ගේ ගම්වල තියෙන පොකුණු වලින් හරක් වතුර බොනවා, සත්තු සීපාවා වතුර බොනවා, උන්ට තහනම් නෑ, නමුත් ශුද්‍ර මිනිස්සුන්ට තහනම්. ඒ කියන්නෙ සතා සීපාවාටත් වැඩිය පහත් කරලා සැලකුවා ශුද්‍ර මිනිස්සු, ඉන්දියාවේ මෑතක් වෙනකල්. ඒ කාලෙ ගැන කවර කතාද, මෑතක් වෙනකල්. ඉතින් ඒ ඉන්දියාවේ ඒ තත්ත්වය යම් විදියකට මෑත යුගයේ වෙනස් කලේ අම්බෙක්කාර, එතුමා ශුද්‍ර කුලයේ ඉපදිච්චි කෙනෙක්. ඉතින් එතුමාට වෙච්චි අසාධාරණකම් මුල් කරගෙන එතුමා ගොඩාක් මේකට විරුද්ධව නැගී හිටියා. මොකද එතුමා ගොඩාක් ඉගෙන ගත්තු කෙනෙක්, උගතෙක් විදියට. එතකොට අද කාලෙ ගැන මං කිව්වෙ, බුද්ධ කාලෙත් බමුණො හරියට රජවරු පවා මැඩපවත්වෙන විදියට බමුණො කටයුතු කලා. ඉතින් කොහොමහරි අපි බලමු ඒ කාලෙ වෙලා තියෙන දේවල්. වාසෙට්ඨ තරුණයායි, භාරද්වාජ තරුණයායි, ඒ දෙදෙනාම බ්‍රාහ්මණයෝ. ව්‍යායාම පිණිස සක්මන් කරද්දි මේ දෙන්නා අතර කතාවක් ඇතිවුනා, ඇත්තටම බ්‍රාහ්මණයෙක් වෙන්නෙ කොහොමද. උපතින්ද, ඔවුන් කරන ක්‍රියාවෙන්ද. එතකොට භාරද්වාජ තරුණයා කිව්වා මව්පිය

දෙපාර්ශ්වයෙන්ම පිරිසිදු සුජාත උපතක් තියෙනවා නම් යම්කිසි කෙනෙකුට මුතුන් මිත්තන්ගේ පරම්පරාව යුග හතක් දක්වා පිරිසිදු ග්‍රහණියකින් යුක්තවෙන්න ඕන. ජාතිවාදයෙන් බැහැර නොකරන්න ඕන. ජාතිවාදයෙන් නොගරහන්න ඕන. භවත මෙපමණකින් බ්‍රාහ්මණයෙක් වෙනවා. ඒ ඉපදුණු කුලපරම්පරාව අනුව තමයි බමුණෙක් වෙන්නෙ කියලා කිව්වා. වාසෙට්ඨ කිව්වා ඒ වුනාට යම් කලෙක සිල්වත් වෙනවා නම්, යහපත් ගති පැවතුම් තියෙනවා නම් මේකෙන් තමයි බ්‍රාහ්මණයෙක් වෙන්නෙ කිව්වා. ඉතින් මේ දෙන්නාට මේක එකින් එක, එක එක්කෙනාට ඔප්පු කරගන්න බැරිවුනා. උපතකින් බ්‍රාහ්මණයෙක් වෙනවා කියන එක ඔප්පු කරන්නත් බැරිවුනා, ක්‍රියාවෙන් බ්‍රාහ්මණයෙක් වෙනවා කියන එක ඔප්පු කරන්නත් බැරිවුනා. ඊටපස්සෙ මෙයාලා අතරින් වාසෙට්ඨ කියනවා භාරද්වාජ, මේ ළඟ ඉන්නවා, ඒ භවත් ගෞතම ශ්‍රමණයන් වහන්සේ. උන්වහන්සේ ශාක්‍ය කුලයෙන් නික්මිලා පැවිදි වූ උත්තමයෙක්. උන්වහන්සේගේ කීර්ති ඝෝෂාව අපි කවුරුත් දන්නවා. උන්වහන්සේ අරහං, සම්මා සම්බුද්ධයි, විජ්ජාචරණ සම්පන්නයි, සුගතයි, ලෝකවිදූ, අනුත්තර පුරිසදම්ම සාරථී, සත්තා දේවමනුස්සානං, බුද්ධ, භගවා. ඉතින් උන්වහන්සේ බැහැදකින්න යං අපි. ගිහිල්ලා අපි දෙන්නාගෙ අදහස අපි කියමු. ඉතින් යම් අයුරකින් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අපිට උත්තර දුන්නොත් අපි දැන්ම තීරණය කරන්න ඕන උන්වහන්සේ කියන දේ අපි පිළිගන්නවා කියලා. මොකද උන්වහන්සේ එච්චරම නුවණින් යුක්තයි. කියන දේ හරියටම කියනවා. එතකොට බලන්න අව්‍යාජ බ්‍රාහ්මණයන් අතර වුනත්, අව්‍යාජ, අවංක හිත් තියෙන අයට ඒ බමුණු බන්ධනයෙන් මිදෙන්න බැරි වුනාට බුදුරජාණන් වහන්සේ ශ්‍රේෂ්ටයි කියන අදහස හිතේ තියෙනවා. දැන් අද කාලෙ වුනත් තියෙනවානෙ. සමහර වෙලාවට අපි කියමු මහමෙව්නාව කියලා. මහමෙව්නාවෙන් පැහැදිලි පිරිසිදු ධර්මයක් කියනවා කියන අදහස කෙනෙකුට හිතේ තියෙනවා. නමුත් එක එක යම් පටු අදහස් එක්ක සමහර වෙලාවට ඒ ධර්මයත් එක්ක ඒ කටයුතුත් එක්ක එකතු වෙන් නැතිව ඉන්න පුලුවන් කෙනෙක්. ඒ වගේ. ඊටපස්සෙ මේ බ්‍රාහ්මණ තරුණයන් දෙදෙනා භාග්‍යවතුන් වහන්සේ වෙත පැමිණුනා. පිළිසඳර කතා කරලා පැත්තක ඉඳගත්තා. වන්දනාමාන කලේ නෑ. ඊටපස්සෙ වාසෙට්ඨ කියනවා ගෞතමයන් වහන්ස, ආචාර්‍යවරුන්ගේ පූර්ණ පරීක්ෂණයන්ගෙන් සමත් වූ අපගේ දැනුම ප්‍රතිඥා දෙන ත්‍රිවේදයේ පාරප්‍රාප්ත බ්‍රාහ්මණයො කිව්වා. ඒ කියන්නෙ අපි වේදවේදාන්තර හොඳටම ඉගෙන ගෙන ආචාර්‍යවරු අපිව පරීක්ෂා කලා,

මොවුන් වේදය හොඳටම දන්නවාද කියලා. ඒ සියල්ලගෙන්ම අපි සමඵ වුනා. ඉතින් මම කියනවා මම පොක්කරසාති බ්‍රාහ්මණයාගේ ශිෂ්‍යයෙක්. මේ ඉන්න භාරද්වාජ තාරුක්ක බ්‍රාහ්මණයාගේ ශිෂ්‍යයෙක්. ඉතින් ත්‍රිවේදයේ පාරප්‍රාප්ත වෙලා වේදයේ යමක් තියෙනවාද ඒ සියල්ල පිළිබඳව නිපුණ දැනුමක් පදක ව්‍යාකරණ මන්ත්‍ර ජප අපි සිද්ධ කරලා ගුරුවරුන් හා සමසමයි. ගුරුවරු අපිට කියලා තියෙනවා ඔබ අපි වගේ කියලා. ඉතින් භවත් ගෞතමයන් වහන්ස, දැන් ඔන්න තමන්ව හඳුන්වලා දුන්නා. හඳුන්වලා දීලා හැබැයි භාග්‍යවතුන් වහන්ස ජාතිවාදය මුල් කරගෙන අපි දෙන්නා අතර විවාදයක් ඇතිවුනා. මේ භාරද්වාජ කියනවා බ්‍රාහ්මණයෙක් වෙන්නේ උපතින් හත්මුතු පරම්පරාවක් පිරිසිදු බමුණු කුලයෙන් වෙන්න ඕන කියලා. මම කිව්වා සීලයෙනුත් ගුණයෙනුත් තමයි බ්‍රාහ්මණයෙක් වෙන්නෙ කියලා. ඉතින් අපිට මේක තේරුම් ගන්න බෑ. අපි භාග්‍යවතුන් වහන්සේගෙන් මේක අහන්නයි මේ ආවෙ. ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, හරි පුදුමයි, මේ දෙන්නාගේ අර පින් බලය කලින්ම පේනවා. මේ දෙන්නා පස්සෙ කාලෙක මහණ වෙනවා. මේ සූත්‍රයේ නෙවේ. පස්සෙ කාලෙක මහණ වෙනවා, මහණ වෙලා අර්හත්වයට පත්වෙනවා. ඒ සූත්‍ර දේශනාවත් ඉදිරියේ කියලා දෙන්නම්. මේ දෙන්නා කොහොමද රහත් වුනේ කියලා. කලින් අර ඡායාවක් වගේ පේනවා. දැන් බලන්න ලෝවැසි සත්ත්වයා පූර්ණ චන්ද්‍ර මණ්ඩලය දුටු කල්හි දෑත් එක්කොට එයට වන්දනා කරනවා. එලෙසින්ම අපේ ලෝකයට එකම ඇස බඳු ගෞතමයන් වහන්සේ වෙත පැමිණිලා ආදරයෙන් වන්දනා කොට අපි අහනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස මේකට උත්තර දෙන්න. දැන් මේ ඇත්තො තාම බමුණෝ. ඊටපස්සෙ අහනවා බ්‍රාහ්මණයෙක් වන්නෙ උපතින්ද, නැත්නම් තමන් විසින් කරන ක්‍රියාවෙන්ද. මේ ගැන අපිට දැනගන්න කියලා දෙන්න කියලා. දැන් එතකොට මේක කියනකොට මේ පින්වතුන්ට ධර්මය අහලා තියෙන අයට මතක් වෙනවා ඇති නජජ්ජා වසලෝ හෝති නජජ්ජා හොති බ්‍රාහ්මණො කම්මනා වසලො හොති කම්මනා හොති බ්‍රාහ්මණො කියලා. උපතින් වසලයෙක් වෙන්නෙත් නෑ බ්‍රාහ්මණයෙක් වෙන්නෙත් නෑ. කරන ක්‍රියාවෙන් තමයි බ්‍රාහ්මණයෙක් හෝ වසලයෙක් වෙන්නෙ කියන එක. මේක වේද පොත් වල මට මතක හැටියට මනුස්සමෘති කියලා තියෙනවානෙ බමුණු න්‍යාය ක්‍රමය. එවුන් ඒක පුදුම විදියට වෙනස් කරලා තියෙන්නෙ. ඒ අය කියනවා ඒක ඇත්ත, උපතින් වසලයෙක් වෙන්නෙත් නෑ, බ්‍රාහ්මණයෙක් වෙන්නෙත් නෑ. ක්‍රියාවෙන් තමයි වසලයෙක් හෝ බ්‍රාහ්මණයෙක් වෙන්නෙ. කියනවා යාග ක්‍රියාව කරන්නැති අය වසල අය. යාග

ක්‍රියාව කරන අය බ්‍රාහ්මණයි. එහෙමයි ක්‍රියාවෙන් බ්‍රාහ්මණයෙක් වෙන්නෙ. ක්‍රියාව නොකිරීමෙන් වසලයෙක් වෙන්නෙ කියලා. එතකොට මේ බුද්ධ ශාසනයේ තියෙන ගාථා පවා විකෘති කරලා බමුණො පොත් හදලා තියෙනවා අද වෙනකොට. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ කියා හිටිනවා වාසෙට්ඨ, ඔබට ජාතීන් පිළිබඳව අනුපිළිවෙල කියලා දෙන්නම්. දැන් ජාතිවාදයක්නෙ තිබිලා තියෙන්නෙ. ජාතිවාදය කියන්නෙ වංශෙ. කුලය. එතකොට ජාතීන්ගේ විස්තරවිභාගය මං පවසලා දෙන්නම්. හොඳට අහගන්න. කියනවා, තෘණ වර්ග - හරී ලස්සනයි, වංශෙ කබල් ගාන අයට හරි අගෙයි - තෘණ වර්ග වෘක්ෂ වර්ග තියෙනවා. ඒවා තම තමන්ගේ ජාතීන් පිළිබඳව වෙනසක් දන්නෙ නෑ, නමුත් ඒ තෘණ වෘක්ෂ අතර සටහන් වශයෙන් උත්පත්ති වශයෙන් ලැබූ එකිනෙකාගේ වෙනස් වූ විවිධාකාර වෙනස්කම් තිබෙනවා. විවිධ ජාතීන් තිබෙනවා. තණකොළ, ගස් ඒ අය අහවලා උසස් අහවලා පහත් කියලා ඒ අයට හැඟීම් දැනීම් නෑ, ජාතිවාදයක් නෑ. හැබැයි ඇත්තටම ගස් කොළන් වල වෙනස් කම් තියෙනවා. ඒ වගේම කුරාකුහුඹුවන්, ඊළඟට කීටයො පළඟැටියො ඔවුන් දිහා බලන්න, ඔවුන්ගේ වෙනස්කම් සටහන් තියෙනවා. උත්පත්තියෙන්ම ලැබූ එකිනෙකාට වෙනස්කම් වූ විවිධාකාර වෙනස්කම් තියෙනවා, විවිධ ජාතීන් ඉන්නවා. බලන්න කීවා සතා සීපාවා, එකාට එකා වෙනස් කිව්වා. සිව්පාවො ගැන බලන්න, ඔවුන් අතර කුඩා සත්තු ඉන්නවා, අති විශාල සත්තු ඉන්නවා, ඔවුන් සටහන් වශයෙන් වෙනස්, උත්පත්තියෙන්ම ලැබූ එකිනෙකාට වෙනස්කම් වූ විවිධාකාරකම් තියෙනවා. විවිධ ජාතීන් ඉන්නවා. සතා සීපාවාගේ කොච්චර වෙනස්කම් තියෙනවාද. උදරය පාදය කරගත්තු සත්තු ඉන්නවා, උරගයො, සර්පයො. ඔවුන් තමයි දීර්ඝ පිටකින් යුක්ත උරගයො. ඔවුන්ගේ සටහන් වශයෙන් වෙනස්කම් තියෙනවා. උත්පත්තියෙන්ම ලැබූ එකිනෙකාට වෙනස් වූ විවිධාකාර වූ වෙනස්කම් තියෙනවා. විවිධ ජාතීන් ඉන්නවා. ජලයේ බැසගෙන සිටින එහි උපන් මත්ස්‍යයින් දෙස බලන්න. වතුරේ ඉන්න මාළුවො දිහා බලන්න කිව්වා. ඔවුන්ගේ සටහන් වශයෙන් උත්පත්තියෙන් ලැබූ වෙනස්කම් විවිධාකාරකම් තියෙනවා, විවිධ ජාතීන් ඉන්නවා. පියාපත් යානා කොට අහසේ ඇවිදින පක්ෂීන් දෙස බලන්න. ඔවුන්ගේ සටහන් වශයෙන් උත්පත්තියෙන් ලැබූ එකිනෙකාට වෙනස්කම් වූ වෙනස්කම් තියෙනවා. විවිධ ජාතීන් ඉන්නවා. එතකොට ඔය ජාතීන් තුළ උපතින්ම හටගත් විවිධාකාර වෙනස්කම් බහුල වශයෙන් තිබෙනවා. එහෙත් මනුස්ස වර්ගයා අතර උපතින්ම හටගත් විවිධාකාර වෙනස්කම් බහුල වශයෙන් නෑ

නෙව. ඔය සතා සීපාවා වගේ මිනිස්සු වෙනස් ද කියලා ඇහුවා. ගස් කොළං වාගේ මිනිස්සු වෙනස් ද කියලා ඇහුවා. එක එක මාළු වර්ග ඉන්නවා වගේ මිනිස්සු වෙනස් ද කියලා ඇහුවා. මනුස්සයන් අතර කෙස් වල වෙනසක් නෑ කිව්වා. මිනිස්සු මිනිස්සු අතර, දැන් අහවල් කුලයේ අහවල් වංශයේ අහවල් ජාතිය කියලා කිව්වට කෙස් කෙස්මනෙ. හිසෙහි වෙනසක් නෑ, කන්වල වෙනසක් නෑ. ඇස් වල වෙනසක් නෑ, මුඛයෙහි වෙනසක් නෑ. නාසයේ වෙනසක් නෑ, තොල් වල වෙනසක් නෑ, ඇහිබැමි වල වෙනසක් නෑ, බුදුරජාණන් වහන්සේ මේ දේශනා කරන්නෙ. බෙල්ලේ වෙනසක් නෑ, උරහිස් වල වෙනසක් නෑ, කුසේ වෙනසක් නෑ, පිටේ වෙනස්කම් නෑ, බඩවැල් වල වෙනසක් නෑ, උරෙහි වෙනසක් නෑ, රහස් තැන් වල වෙනසක් නෑ, මෛථුන්දම් සේවනයේ වෙනසක් නෑ, අත් වල වෙනසක් නෑ, පා වල වෙනසක් නෑ, ඇඟිලි වල වෙනසක් නෑ, නියපොතු වල වෙනසක් නෑ, කෙණ්ඩා වල වෙනසක් නෑ, කලවේ වෙනසක් නෑ, හැඩරුවේ වෙනසක් නෑ, ස්වරයේ වෙනසක් නෑ, වෙනස් සත්ත්ව ජාති තුළ උපතින්ම හටගත්තා වූ වෙනස්කම් මිනිස්සු තුළ නෑ නෙව. මිනිස් ශරීර වල වෙන් වෙන් වශයෙන් දැක්ක හැකි වෙනස්කම් පෙනෙන්නට නෑ. නමුත් මිනිසුන් අතර ව්‍යවහාරයේදී හඳුනාගැනීම පිණිස වෙනස්කම් ඇතැයි කියනවා. හඳුනාගැනීම පිණිස එක එක වෙනස්කම් තියෙනවා. උස එක්කෙනෙක්, මිටි එක්කෙනෙක්, අරයා මහතයි, අරයා කෙට්ටුයි, අරයා හිනාවෙනවා, එයාගේ ඇස් ලොකුයි කියලා අර හඳුනාගැනීම පිණිස එයාගේ ඉරියව් වල අඩුපාඩුකම් අපි කියනවා, උස් මහත්කම්. නමුත් පොදුවේ ගත්තට පස්සෙ ඇස් නම් ඔක්කෝටම ඇස්. කන් නම් කන්, නහය නම් නහය. ඊටපස්සෙ මිනිස්සු අතර යමෙක් කෘෂිකර්මය, ගව පාලනය ආදීයෙන් ජීවත් වෙනවා නම් පින්වත් වාසෙට්ඨ ඔහු දැනගන්න ගොවියෙක් හැටියට. බමුණෙක් නෙවෙයි. ගොවිතැන් කර කර ජීවත් වෙනවා. එයාට කියන්නෙ ගොවියා. මිනිසුන් අතර යමෙක් නොයෙක් ශිල්ප ශාස්ත්‍ර වලින් ජීවත් වෙනවාද වාසෙට්ඨ, ඔහුට කියන්නෙ ශිල්පියෙක් මිසක්කා බමුණෙක් නෙවෙයි. මිනිසුන් අතර යමෙක් ඉන්නවා නම් වෙළෙඳ ව්‍යාපාර කටයුතු වලින් ජීවත් වෙන, වාසෙට්ඨ, ඔහුට කියන්නෙ වෙළෙන්දෙක් කියලා. බමුණෙක් නෙවෙයි. මිනිසුන් අතර යමෙක් ඉන්නවා නම් අනුන්ට බැලමෙහෙවර කරමින් ජීවත් වෙන වාසෙට්ඨ, ඔහුට කියන්නෙ මෙහෙකාරයා, දාසයා කියලා මිසක්කා බමුණෙක් කියලා නෙවෙයි. දැන් එතකොට මේ අනුව තේරෙන්නෙ මිනිසුන්ගේ කුලය බෙදෙන්නේ කුමක් අනුවද. ඊටපස්සෙ තියෙනවා මිනිසුන් අතර යමෙක් සොරකම් කරනවා නම් පින්වත් වාසෙට්ඨ, එයාට අපි කියන්නෙ හොරා කියලා

මිසක්කා බමුණා කියලා නෙවෙයි. ඒ වගේම මිනිසුන් අතර යමෙක් අවිආයුධ දරමින් ජීවත් වෙනවාද පින්වත් වාසෙට්ඨ, එයාට කියන්නෙ යුධ භටයා, හමුදාකාරයා කියලා මිසක්කා බමුණා කියලා නෙවෙයි. මිනිසුන් අතර යමෙක් යාග හෝම කරමින් අනුශාසනා කොට ජීවත් වෙනවාද එයාට කියන්නෙ යාග කරන්නා, මිසක්කා බමුණෙක් නෙවෙයි. මිනිසුන් අතර යමෙක් ගමිනුත් රටෙනුත් ලැබෙන ආදායමෙන් ජීවත් වෙනවා නම් ඔහුට කියන්නෙ රජා කියලා. රජෙක්, බමුණෙක් නෙවෙයි. යමෙක් මවකගේ යෝනියෙන් ඉපදුනු පමණින් ඔහු බ්‍රාහ්මණයෙක්ය කියා මා කියන් නෑ. ඉදින් ඔහු කෙලෙස් සහිතව ඉදිමින් භවත, භවත පින්වන්තය, පින්වන්තය කියලා කිව්වට එය ඔහුට නමක් විතරයි. යමෙක් කෙලෙස් රහිත ද උපාදාන රහිත ද ඔහුට තමයි මම බ්‍රාහ්මණයා කියලා කියන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා මම නම් බ්‍රාහ්මණයා කියන්නෙ රහතන් වහන්සේට. සියලු කෙලෙස් බන්ධන සිඳ දැමූ යමෙක් ඒකාන්තයෙන් කිසිවකට කම්පා නොවෙයිද ඒ රාගාදි කෙලෙස් ඉක්මවා ගිය ලොව කිසිවක් හා එක් නොවී සිටින තැනැත්තාටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. ආශාව නැමැති කෙලෙස් වරපට සිඳ දැමූ කෙලෙස් තොණ්ඩුව කෙලෙස් ගැට විනාශ කල අවිද්‍යාව නැමැති දොර අගුළු කඩා බිඳ දැමූ චතුරාර්‍ය්‍ය සත්‍යය අවබෝධ කල මුණිවරයාටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. යමෙක් දුෂ්ට රහිත සිතින් සිටිමින් ආක්‍රෝශ නින්දා වද බන්ධන ඉවසයි ද, ඉවසීම බලය කොට ඉවසීම බලසේනාව කොට ඇති තැනැත්තාට මම බ්‍රාහ්මණයා කියමි. ක්‍රෝධ නොකරන්නා වූ වත්පිළිවෙතින් යුතු සීලවන්ත නිකෙලෙස් මුළුමනින්ම දමනයට පත් වූ අන්තිම ශරීරයක් දරලා සිටිනා කෙනාටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. ඒකනෙ බුදුරජාණන් වහන්සේ අංගුලිමාලයන්ට අහක යන ගල් වැදෙද්දි පොලු වදිද්දි පාත්‍රා කැඩෙද්දි සිවුර ඉරීගෙන ලේ පෙරාගෙන පැමිණෙද්දි ඉවසන්න බ්‍රාහ්මණය, ඉවසන්න බ්‍රාහ්මණය කියලා කියන්නෙ. රහතන් වහන්සේට. කියනවා ක්‍රෝධ නොකරන්නා වූ වත් පිළිවෙතින් යුතු සීලවන්ත වූ නිකෙලෙස් වූ මුළුමනින්ම දමනයට පත් වූ අන්තිම ශරීරයක් දරා සිටින කෙනාටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. නෙළුම් කොළයක නොරැඳී බිම වැටෙන පිණි බිඳුවක් වැනි වූ ඉඳිකටු තුඩ අග නොරැඳී බිම වැටෙන අබ ඇටයක් බඳු වූ යමෙක් කාමයන් කෙරෙහි කිසිසේත් නොරැඳෙයි ද ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. කාමයන් තුළ රැඳෙන් නෑ. යමෙක් මේ ජීවිතේ තුළදීම දුක අවබෝධ කරලා ඒ දුකේ ක්ෂය වීම තමා තුළින්ම දැකලා කෙලෙස් බර පැත්තකට කොට කිසිවක් කෙරෙහි එක් නොවී වසයි ද ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. ගැඹුරු

ප්‍රඥාවකින් යුතු නුවණැත්තෙක් මඟ නොමඟ දෙකෙහි හසල දැනුමකින් යුතු වෙයි ද උත්තම අර්ථය වන අර්හත්වයට පැමිණ සිටියි ද ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. ගිහියන් හා නොඇලී වසයි ද ඒ වගේම අනගාරික වූ පිරිස් සමඟ ද නොඇලීමෙන් සිටියි ද, ඒ වගේම කිසිවක් කෙරෙහි නොඇලී සිටියි ද අල්පේච්ඡ වූ තැනැත්තාටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. කෙලෙස් සහිත සත්ත්වයන් කෙරෙහි ද, කෙලෙස් රහිත සත්ත්වයන් කෙරෙහි ද දඬුමුගුරු අත් හල කිසිවෙකුත් නොනසයි ද හිංසා නොකරයි ද ඒ කෙනාටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. තමා කෙරෙහි වෛරීව දඬුමුගුරු ගත් පුද්ගලයන් කෙරෙහි මෙත් සිතින් සිටින නිවී ගිය සිත් ඇති උපාදාන සහිත කිසිවකට උපාදාන නොවූ යමෙක් වෙයිද ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. වෛරී අයත් නෑ, බැඳුනු අයත් නෑ. යමෙක් යම් වචනයකින් කිසිවකු සමඟ නොගැටෙයි ද ආක්‍රෝශ වචන නොකියයි ද සත්‍ය වූ වචනම කියයි ද ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. යමෙක් දීර්ඝ වේවා, කෙටි වේවා, අනුමාත්‍ර වේවා, විශාල වේවා, සුභ වේවා, අසුභ වේවා, ලොවේ නොදුන් කිසිවක් නොගනියි ද ආන්න ඒ තැනැත්තාටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. පුංචි දෙයක් වත් සොරකම් කරන් නෑ. යමෙක් තුළ මෙලොව පිළිබඳව පරලොව පිළිබඳව ආසාවක් නැත්ද, ආසා රහිතව නොඇලී සිටියි ද ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. මේ රහතන් වහන්සේලාගේ ගුණ නේද මේ. යමෙකු තුළ කිසි ආලයක් නැත්ද, අවබෝධය පිණිස කෙසේද කෙසේද යන සැකය නැත් ද ඒ අමා නිවන තුළට පැමිණ සිටියි ද ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. යම් කෙනෙක් මෙලොවදීම පිනත් පවත් යන දෙකම ඉක්මවා ගියාද ශෝක රහිත වූ කෙලෙස් රහිත වූ පිරිසිදු වූ ඒ තැනැත්තාටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. දැන් එතකොට බලන්න බුදුරජාණන් වහන්සේ අංගුලිමාලයන්ට ඉවසන්න බ්‍රාහ්මණය, ඉවසන්න බ්‍රාහ්මණය කියලා අංගුලිමාලයන්ට බ්‍රාහ්මණය කියන වචනය පාවිච්චි කරපු අර්ථ ටික බලන්න. නිර්මල වූ පිරිසිදු වූ පුන්සඳ මඩල බඳු වූ ඉතා පහන් වූ නොකැළඹී ගියා වූ තෘෂ්ණාවත් භවයත් ක්ෂය වී ගිය වූ යමෙක් සිටියි ද ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. යමෙක් දුක් කරදර සහිත වූ ගමනින් දුෂ්කර වූ මේ සසර තරණය කොට මෝහය ඉක්මවා ගියාද සසරින් එතෙර වුනාද ධ්‍යාන වඩයි ද කෙලෙස් රහිත වූත්, සැක රහිත වූත්, උපාදාන රහිත වූත් නිවී ගිය ඒ තැනැත්තාටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. එතකොට බ්‍රාහ්මණයා කියන එකේ අර්ථ. එතකොට ඒ කාලේ බමුණො උපතින් අපි බමුණො අපි බමුණො කියලා පූන නූල දාගෙන සමාජයේ එක එක දර්ශන දාගෙන යද්දි බුදුරජාණන් වහන්සේ මේ වාගේ විස්තර කරනකොට ඒ සමාජයේ

සැලී ගියා. ඇයි කරුණු සහිතයිනෙ. ඊටපස්සෙ කියනවා යමෙක් මෙහිදීම කාමයන් අත්හැර අනගාරිකව පැවිදිව කාම භව සියල්ල ක්ෂය කරන ලද්දේද ආන්න ඒ තැනැත්තාටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. ඊටපස්සෙ තෘෂ්ණාව ප්‍රහාණය කොට අනගාරිකව පැවිදිව තෘෂ්ණා භව සියල්ල ක්ෂය කරන ලද්දේද අන්න ඒ තැනැත්තාටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. යමෙක් මිනිස් ලොව බැදෙන කෙලෙස් අත්හැර, දිව්‍යලොව බැදෙන කෙලෙසුන්ද අත්හැර ඒවා ඉක්මවා ගියේද, සියලූම ක්ලේශයන්ගෙන් නිදහස්ව එයට නොඇලී සිටියේද ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. යමෙක් පඤ්චකාම ගුණයන්ට ඇති ආශාව නම් වූ රතියත් ධර්මයේ හැසිරෙන්න ඇති අකැමැත්ත නම් වූ අරතියත් හැර දමා සිහිල්ව නිවී ගියේ වේද, කෙලෙස් රහිත වූයේ වේද, සියලු ලෝකය අභිබවා ගිය වීර වූ ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. යමෙක් සත්ත්වයන්ගේ චුතියත් උපතත් සර්වප්‍රකාරයෙන්ම දන්නවාද, ඒ කිසිවකට නොඇලුනු සුගත වූ ආර්ය සත්‍යය අවබෝධ කලා වූ ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. යමෙක් උපදින්නේ කොහෙද කියාත් දිව්‍ය ගාන්ධර්ව මනුස්ස ආදී කිසිවෙකුටත් සොයාගන්න බැරි නම් එබදු ක්ෂීණාස්‍රව අර්හත්වයට පත් තැනැත්තාටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. යමෙකුට අනාගතය පිළිබඳව හෝ අතීතය පිළිබඳව හෝ වර්තමානය පිළිබඳව කිසි බැඳීමක් නැත්ද, කිසිවකට නොබැඳුනු කිසිවෙකුට උපාදාන නොවුනු ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. ශ්‍රේෂ්ට වූ උත්තම වූ මහා වීර්යය ඇති මහා ඍෂි වූ මාර සෙනඟ පරදවා දිනන ලද්දා වූ කෙලෙස් රහිත වූ කෙලෙස් සෝදා හල ආර්ය සත්‍යය අවබෝධ කල ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. එතකොට බ්‍රාහ්මණයා කියන එක කොච්චර විස්තර කරනවාද. යමෙක් පෙර විසූ කඳපිළිවෙල දනීද, ස්වර්ගයත් අපායත් දකී ද, ඒ වගේම ඉපදීම ක්ෂය කොට නිවනට පත්වූයේ වෙයිද ඔහුටයි මම බ්‍රාහ්මණයා කියන්නෙ. මේ ලෝකයේ නොයෙක් නාමගෝත්‍ර ඇත්ද, මේවා සාමාන්‍ය ලෝකයා විසින් කල්පනා කොට තබන ලද ව්‍යවහාරික නම් විතරයි. ඒ ඒ තැන්වලදී ඒ ඒ අය හඳුනාගන්නටයි මේ නම් කල්පිතව ගොඩනගන්නෙ. කියනවා හරියට බ්‍රාහ්මණයා කියනවා නම් වාසෙට්ඨ ඔය විදියට තමයි කියන්න තියෙන්නෙ. නමුත් අද කාලෙ මිනිස්සු මේ බමුණෙක් මේ රජ කෙනෙක් මේ ගොවියෙක් කියලා මිනිස්සු හඳුනාගන්න ව්‍යවහාර පාවිච්චි කරනවා කල්පිත, ගොඩනගාගත්ත දේවල්. ඊටපස්සෙ කියනවා නමුත් දීර්ඝ කාලයක් මුළුල්ලෙහි මේ නම් ඇසුරෙන් මිනිස්සු තුළ මුල් බැසගත් විවිධාකාර දෘෂ්ටීන් තිබෙන බව ඔවුන් දන්නෙ නෑ, ඒ නොදන්නා නිසාම ඔවුන් කියනවා බ්‍රාහ්මණයෙක්

වෙන්නෙ උපතින් කියලා. එතකොට මේවා කිදාබැසගත්තට පස්සෙ හිත් වලට එයාලා හිතන්නෙ ඒ වංශෙ උපතින් එනවා, අම්මලා තාත්තලා බමුණො නම් ඉපදෙන දරුවත් බමුණෙක් කියලා හිතනවා. අම්මලා තාත්තලා වසල කුලේ නම් ඉපදෙන දරුවත් වසල කියලා කිදා බැසගෙන ඉන්නවා මිනිස්සු ඒ අදහසේ. බුදුරජාණන් වහන්සේ වදාළා උපතකින් බ්‍රාහ්මණයෙක් වෙන් නෑ. උපතකින් අබ්‍රාහ්මණයෙක් වෙන්නෙත් නෑ, බමුණෙක් වෙන්නෙත් නෑ බමුණෙක් නොවෙන්නෙත් නෑ උපතකින්. ක්‍රියාවෙනුයි බ්‍රාහ්මණයෙක් වෙන්නෙ. ක්‍රියාවෙනුයි බ්‍රාහ්මණයෙක් නොවෙන්නෙ. ක්‍රියාවෙනුයි ගොවියෙක් වෙන්නෙ, ඇයි ඉතින් ගොවියෙක් වුනේ ඇත්තටම ක්‍රියාවෙන්නෙ. දැන් අපි කියමුකො ගොවිතැන් කරනවා, එතකොට එයා ගොවියෙක්. ඔහුට අපි කියමු ගුරු පත්වීමක් ලැබෙනවා, ඔහුගේ පුතෙකුට ගුරු පත්වීමක් ලැබෙනවා. එතෙකොට එයා අපි ගුරුවරයෙක් කියලානෙ හඳුන්වන්නෙ. ඊටපස්සෙ අපි කියමුකො ඒ ගුරුවරයා නැටුම් නටනවා. එතකොට අපි කියන්නෙ නැටුම් ශිල්පියෙක් කියලා. ඊටපස්සෙ කියනවා ඔහු සින්දු කියනවා. එතකොට අපි ඔහුව හඳුන්වන්නෙ ගායකයෙක් කියලානෙ. ඊටපස්සෙ අපි කියමු ටෙලිනාට්‍ය චිත්‍රපටි රඟපානවා, අපි කියන්නෙ එයාට නළුවෙක් කියලානෙ. එයා ඡන්දෙ ඉල්ලනවා, එතකොට කියන්නෙ මන්ත්‍රීතුමා කියලා. එයා ඊටපස්සෙ ඇමති කෙනෙක් වෙනවා, ඇමතිතුමා කියනවා. අපි කියමු එයා ජනාධිපති කෙනෙක් වෙනවා, ජනාධිපති කියනවා. ඉතින් ඒ වගේ ඒ අනුවනෙ. දැන් පහුගිය කාලෙ හිටපු ජනාධිපතිතුමා, කාලෙකට කලින් ඔහු ග්‍රාමනිළධාරීතුමා, පස්සෙ මන්ත්‍රීතුමා, පස්සෙ ඇමති තුමා, ඊටපස්සෙ ජනාධිපතිතුමා. දැන් පාර්ලිමේන්තු මන්ත්‍රීතුමා. ඒ තමන් කරන ක්‍රියාව සහ ඉන්නතැන අනුව නේද. උපතින් එන්නෑ මේවා. ක්‍රියාවෙනුයි මේක සිද්ධවෙන්නෙ. දැන් බලන්න එකම තැන නම් කීයක් හැදුනද එකම කෙනාට කියලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ක්‍රියාවෙන් තමයි ගොවියෙක් වෙන්නෙ, ක්‍රියාවෙන් තමයි ශිල්පියෙක් වෙන්නෙ, ක්‍රියාවෙන් වෙළෙන්දෙක් වෙන්න, ඒ වගේම කම්කරුවෙක් වෙන්නෙ ක්‍රියාවෙන්. ඊටපස්සෙ සොරෙක් වෙන්නෙ ක්‍රියාවෙන්, හමුදාකාරයෙක් වෙන්න ක්‍රියාවෙන්, යාගහෝම කරන්නෙ ක්‍රියාවෙන්, රජකු වන්නෙ ක්‍රියාවෙන්. මේ ආකාරයෙන් පටිච්ච සමුප්පාදය හෙවත් හේතුප්‍රත්‍යයන් තුළින් හටගැනීම සිදුවන බව දකින්නා වූ කර්ම විපාකයන් පිළිබඳව දක්ෂ වූ නුවණැත්තා ක්‍රියාව ඒ අයුරින් දකිනවා. හේතුඵල දහමක් තියෙන්නෙ. හේතුව මුල් කරගෙන ඵලය හටගන්නවා. කරන ක්‍රියාව මුල් කරගෙන නාමසංඥා හටගන්නවා. ඊටපස්සෙ ඔවුන්ට සංසාරෙ ඒ

සමාජයෙන් නින්දා ප්‍රශංසා ලැබෙන්න තියෙන කර්ම අනුව ඒ ඒ තැන්වල උපදිනවා. ඉතින් ඒ නිසා මේක තේරුම් ගන්න ඕන, නුවණින් තේරුම් ගන්න ඕන කියනවා. අපිට සමාජය සම්පූර්ණයෙන් වෙනස් කරන්න බෑ. නුවණින්. අපි කියමුකො අද කාලෙ වුනත් අපි කියනවා දුප්පත් මනුස්සයා පාගනවා, පෝසත් මනුස්සයාටමයි හැමදේම කියලා අපි කියනවානෙ. නමුත් ඔහු ධනවත් වෙලා උපදින්නේම සංසාරෙ කරපු පිනක් නිසා. එතකොට ඔහු ධනවත් වෙලා උපදින්නෙ සංසාරෙ දුන්නු නිසා, පින් කරපු නිසා, එතකොට දැනුත් සමාජයේ ඔහුට ලැබෙනවා, ඔහුට ප්‍රශංසා කරනවා. දුප්පත් මිනිහා පාගනවා කියනවා. එතකොට සංසාරෙ දුප්පත් වෙලා උපදින්නේම සංසාරෙ නොදුන්නු නිසා. බලවත් කුසල් පින් නොකරපු නිසා. එතකොට මේ ජීවිතේ නොලැබීම කියන එක උරුම කරගෙන ඉන්නෙ. කර්මානුරූප පැවැත්ම, හේතුඵල දහම දකින්න ඕන කියනවා. හේතුඵල දහම. ඊටපස්සෙ නුවණැති කෙනා මේක දකිනවා කියනවා. ලෝකය පවතින්නේ ක්‍රියාව මතයි. සත්ත්ව ප්‍රජාව පවතින්නෙත් ක්‍රියාව මතයි. රථය නොගැලවී සිරවී තියෙන්නෙ කඩ ඇණය නිසයා. එලෙසින්ම සත්ත්වයො තම තමන්ගේ ක්‍රියාව මත සිරවී සිටිනවා. කරත්ත රෝදයක් මෙහෙම කැරකෙනකොට ඒ කරත්ත රෝදයේ කරත්තයට ඔබ්බලා තියෙන ඒ දණ්ඩෙ කරත්ත රෝදෙ විසිවෙයි කියලා කඩඇණයක් ගහලා තියෙනවා. එතකොට මේක කොතෙකුත් කැරකෙන්නෙ මේ ඇණේට හිරවෙලා තියෙන නිසා. මේ ඇණය ගලවපු ගමන් රෝද දෙක විසිවෙලා යනවා, කරත්තෙ යන්නෑ. ඒ වාගේ ක්‍රියාව නිසා තමයි මේ ලෝක සත්ත්වයා ලෝකෙට හිරවෙලා ඉන්නෙ. ඇයි හැමවෙලාවෙම මේ සත්ත්වයා ක්‍රියාවෙම යෙදෙනවානෙ. ක්‍රියා නොකිරීමක් කියලා නෑනෙ. මානසික ක්‍රියා හරි කරනවා. ඊටපස්සෙ තපසිනුත්, බ්‍රහ්මචරියාවෙනුත්, සංවරවීමෙනුත්, දමනය වීමෙනුත් යන මේ කරුණු වලින් තමයි බ්‍රාහ්මණයෙක් වෙන්නෙ. එහෙනම් බ්‍රාහ්මණයෙක් වෙන්න තපස් රකින්න වෙනවා. සංවර වෙන්න වෙනවා, දමනය වෙන්න වෙනවා, මේ ක්‍රියාවෙන් යුතු කෙනා උතුම් බ්‍රාහ්මණයෙක්. පුබ්බේනිවාසානුස්මෘති ඥාණය, චුතූපපාත ඥාණය, ආසවක්ඛය ඥාණය කියන ත්‍රිවිද්‍යාවෙන් යුක්ත වූ ශාන්ත වූ පුනර්භවය ක්ෂය කරන ලද්දා වූ යමෙක් වේද පින්වත් වාසෙට්ඨ, ඔහු කරුණු දන්නා නුවණැතියන්ගේ බසින් හදුනාගන්න. ඔහු තමයි බ්‍රහ්මයා, ඔහු තමයි සක්‍රයා. දැන් හරි ලස්සන කාරණාවක් තියෙනවා, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඥාණ තුනක් කෙනෙකුට තියෙනවා නම් පුබ්බේනිවාසානුස්මෘති ඥාණය කියන්නෙ පෙර ජීවිත දකින ඥාණය,

චුතූපපාත ඥාණය කියන්නෙ සත්ත්වයා උපදින චුතවෙන ආකාරය දකින ඥාණය, ආසවක්ඛය ඥාණය කියලා කියන්නෙ කෙලෙස් ක්ෂය කරපු බව පිළිබඳව තියෙන ඥාණය. කාටද මේ කියන්නෙ, රහතන් වහන්සේට. එතකොට රහතන් වහන්සේට තමයි කියනවා වාසෙට්ඨ කරුණු දන්නා නුවණැත්තාගේ බස් හඳුනාගන්න. ඒ රහතන් වහන්සේට තමයි බ්‍රහ්මයා කියන්නෙ. සක්‍රයා කියන්නෙ. කරුණු සහිතව. මෙසේ වදාළ විට වාසෙට්ඨ, භාරද්වාජ තරුණයන් දෙදෙනා භාග්‍යවතුන් වහන්සේ ළඟ දණ ගහගෙන සාදු කියමින් කිව්වා, ස්වාමීනී මේ උපතකින් බ්‍රාහ්මණයෙක් වෙන් නෑ ක්‍රියාවෙන් තමයි බ්‍රාහ්මණයෙක් වෙන්නේ කියලා භාග්‍යවතුන් වහන්සේ දේශනා කරපු බණ පද ටික නම් හරිම සුන්දරයි. එයාලගේ නුවණ තියුණුයිනෙ. කල්පනාව තියුණුයිනෙ. ඉක්මණට තේරෙනවා, යමක් කියපු ගමන් ඉක්මණට තේරෙනවා. යටට හැරවිච්ච දෙයක් උඩට හැරෙව්වා වගේ. වහලා තිබ්බ දෙයක් ඇරලා පෙන්නුවා වගේ. අන්ධකාරයේ ඇස් ඇති පුරුෂයන්ට රූප බලන්න කියලා පහනක් දැල්වූවා වගේ. නොයෙක් ආකාරයෙන් භාග්‍යවතුන් වහන්සේ ධර්මය දේශනා කලා. අපි බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ධර්මය සරණ යනවා, ආර්ය මහා සංඝරත්නය සරණ යනවා, දිවිහිමියෙන් අපි තෙරුවන් සරණ ගිය උපාසකයන් ලෙස දරාගන්න සේක්වා කියලා බුදුරජාණන් වහන්සේ සරණ ගියා. ඊටපස්සෙ තමයි මේ දෙන්නාට පස්සෙ කාලෙක අර බ්‍රහ්ම ලෝකෙ මාර්ගය පිළිබඳව බුදුරජාණන් වහන්සේගෙන් අහන්නෙ. ඒ දේශනාවත් අහලා මේ දෙදෙනා මහණ වෙනවා. මහණ වෙලා මෙයාලට සාමණේර ජීවිතයක ඉන්න වෙන්නෙ. උපසම්පදා වෙන්න කාලයක් යනවා. අන්න ඒ සාමණේර වෙලා උපසම්පදා වෙන්න ඉන්න කාලෙ බුදුරජාණන් වහන්සේ සමඟ මේ දෙදෙනා කළ කතාබහ තමයි අග්ගඤ්ඤ සූත්‍රයේ තියෙන්නෙ. ඒ නිසා අපිට වෙලාවක් කලාවක් තිබුනොත් ඊළඟ දවසේ අග්ගඤ්ඤ සූත්‍රය ඉගෙන ගනිමු. අග්ගඤ්ඤ සූත්‍රයේ තියෙන්නෙ ලෝකය හැදෙන හැටි. කොහොමද මේ මිනිස් වර්ගයා ලෝකෙට හැදුනෙ ඉස්සෙල්ලාම කියලා. කොහොමද කුල භේදය කියන එක හැදුනේ කියලා. එතකොට දැන් තේරෙනවා නේද ක්‍රියාවෙන් තමයි මනුස්සයොත් එක එක්කෙනාට නම් ගම් දාන්නෙ. එතකොට දැන් අපි හිතන්නකො අද කාලෙ වුනත් ලංකාවෙ වුනත් එක එක කුල, දැන් මෙච්චර ප්‍රබලව කුලභේදය තියෙන්නෙ ඉන්දියාවෙ දැනට ගොඩාක් අඩුයි, නැතුවාමත් නෙවෙයි. නමුත් ඒ කාලෙ ගොඩාක් වැඩියි. ලංකාවේ කුල භේදය කියන එක ලොකුවට ඒක ලංකාවේ කුලභේදයට වැඩිය පන්ති භේදය තමයි ප්‍රබල, දුප්පත් පොහොසත්

කියන එක. ඒවත් දැන් නැතිතරම්. ඉස්සර තිබ්බනෙ, ඉස්සර හැමවෙලාවෙම කුලය බලනවා. දැන් නම්ගම් වෙනස් කරලා මනුස්සයො ලේ වලින් හොයන්නයෑ. නම්ගම් වෙනස් කරලා කොයි කුලය ද මොකක්ද කියලා හොයාගන්න බෑ. එතකොට ඉස්සර හොයනවා, මොකක්ද උඹගේ වංශෙ, උඹගේ කුලේ මොකක්ද කියලා හොයලා දැන් එක ගෙදරක ගෑණු ළමයෙක් ඉදලා ඒ ළමයාට අම්මලා හොයන්නේම ඉහළ කුලේමයි. මොකද ඒ අය වලව් පැලැන්තියෙ කියලා, නමුත් දැන් දුප්පත්. ජීවිතේ දුප්පත් වුනාට, ක්‍රියාව දුප්පත් වුනාට ඒ මිනිස්සුන්ගේ හිතෙන් අර වලව් පැලැන්තිය හිතේ තියාගෙන හිටියා. ඊටපස්සෙ කෙල්ලට කොහෙන්වත් මෙයාලා කොල්ලෙක් හොයලා දෙන්නෙ නෑ හොඳ කුලේකින් හම්බවෙනකල් කියලා. ආරංචි වුනා අල්ලපු ගමක හොඳ වලව් පැලැන්තියක කොල්ලෙක් ඉන්නවා කියලා, හැබැයි ඒ මිනිස්සුත් දුප්පත් වෙලා. ඊටපස්සෙ කොහොමහරි ඔන්න පෙළවහක් කලා. පෙළවහක් කරලා කාලයක් ගියාට පස්සෙ අම්මයි තාත්තයි දෙන්නා ගියා දුව බලන්න. දුව ගෙදරට ගිය ගමන් ඒ දුව කසාද බැඳපු දා ඉඳලා හරි හමන් කෑමක් නෑ බීමක් නෑ දුප්පත් කොල්ලට රස්සාවක් නෑ. ඊටපස්සෙ මොකද වුනේ දැන් අම්මලා ඇවිල්ලා ඉන්නවා වතුර ටිකක් දුන්නා. ගේ මුල්ලක හාල් පතක් නෑ. දැන් මොනවද උයන්නේ කියලා කල්පනා කරලා, කල්පනා කලා හරි කියලා ලිප පත්තු කරලා කබල ලිපේ තියලා හැන්ද අරන් කාල් ගෑවා, දැන් කබලේ මොකුත් නෑ. ඊටපස්සෙ කාල් ගානවා. අම්මා බැලුවා දැන් ගොඩක් වෙලා සරස් බරස් ගාලා අර හැන්ද යනවා ඇහෙනවා ඇවිල්ලා ඇහුවා දුව මොනවද ඔය කාල් ගාන්නෙ. ඊටපස්සෙ කිව්වා අම්මා, වංශෙ කබල් ගානවා. ඇයි කන්න බොන්න මොකුත් නෑ ලැබුන ලොකුම දේ වංශෙ. ඕක තමයි අදටත් වංශෙ කබල් ගානවා කියන්නෙ. අද කාලෙ මේවා නෑ. මට මතකයි මම හොඳට දන්න සිද්ධියක් තියෙනවා, ඒ පුතෙක් මට කිව්වෙ දැන් අවුරුද්දකට දෙකකට කලින් ඒ පුතා මට විස්තරය කිව්වෙ. ඒ දරුවා ගෑණු ළමයෙක් එක්ක සම්බන්ධයක් තිබිලා ඊටපස්සෙ ඒ ගෑණුළමයා කියලා ඔයාගේ දුප්පත් කමත්, ඒ වගේම ඔයාගේ කුලේ හරි නැති එකයි ඒවා මුල් කරගෙන අපේ ගෙදරින් ඔයාට කැමැති වෙන් නැතිවෙයි. ඊටපස්සෙ මොකද අපි නුවර රදළ පැලැන්තියෙ අපේ පවුල් කියලා. ඊටපස්සෙ කොල්ලා කියලා එහෙම නෑ ආදරේට කරන්න බැරි දෙයක් නෑ, කියලා දැන් ළමයි ගන්නවානෙ ඇඟට. මං ගිහිල්ලා කතා කරන්නම්. ආදරේ තියෙන තැන කුලේකට ඉඩක් නැත කියලා ඊටපස්සෙ මේ ළමයා ගිහිල්ලා කතා කලා. කතා කරලා අහලා පුතාගෙ රස්සාව මොකක්ද. ඊටපස්සෙ කියලා තාම

රස්සාවක් නෑ, පුතාගේ වාසගම මොකක්ද. වාසගම කියපු ගමන් එයාලාගෙ පැලැන්තියට ගැලපෙන් නෑ. ඊටපස්සෙ පලයන් බල්ලා කියලා පන්නලා. මෙහෙ හිඟන්නන්ට දෙන්න කෙල්ලො නෑ කියලා. ඊටපස්සෙ කොහොමටත් මේ ළමයින්ගේ සම්බන්ධය තිබිලා. ඊටපස්සෙ ළමයා හොඳට ඉගෙන ගත්තා. ඉගෙන ගෙන රස්සාවක් කලා. ඊටපස්සෙ ව්‍යාපාරයක් පටන් ගත්තා. ඊටපස්සෙ තට්ටු දෙක තුනකට ගෙයක් හදාගත්තා, ගෙයක් හදාගෙන ඒත් අර සම්බන්ධය තියෙනවා. ඊටපස්සෙ ගෑණු ළමයා ගෙදරට කිව්වා - මේ හොඳ කතාවක් නිසා කියන්නෙ - ගෑණු ළමයා ගෙදරට කිව්වා අම්මා මං හොඳ ව්‍යාපාර කරන මහත්තයෙක් එක්ක මම සම්බන්ධයක් තියෙනවා, අම්මලා කැමැති නම් මං ගෙන්නගෙන යන්නම්, අම්මලා කැමති නම් කතා කරන්න කියලා. හා කියලා ගියා. ගිහිල්ලා යනකොට අර තට්ටු දෙක තුනේ ගෙදරක වාහන දෙක තුනක් දාලා මිදුලෙ, ඊටපස්සෙ දැන් ගේට්ටුව ඇරගෙන ගියා. ඊටපස්සෙ ඉස්සරහට කවුරුත් ආවෙ නෑ. කිව්වා අම්මා එයා විතරයි ඉන්නෙ කියලා, යං බලන්න කියලා. බලනකොට සෝෆා සෙට් එකක කකුලක් පිට කකුලක් දාගෙන අර කොල්ලා ඉන්නවා. අර ගෙදරින් පන්නපු කොල්ලා. දැන් සාමාන්‍යයෙන් කොල්ලනෙ නැන්දම්මාට වඳින්නෙ. නැන්දම්මා වැඳලා පුතාට, අනේ පුතා ඕවා ගණන් ගන්න එපා ඉස්සර ඒවා කියලා. දැන් වංශෙ කොහොමද. ඒවා හිස් දේවල්. මේ කතාවේ හොඳ පැත්තකුත් තියෙනවා. ඒ තමයි සාමාන්‍යයෙන් ඔය වගේ ප්‍රශ්න එනකොට ළමයි මානසිකව වැටෙනවානෙ. මානසිකව වැටිලා අල්ලන් නෑ කළ යුතු දේ. තමන්ට සමාජයෙන් පීඩා වෙන්නෙ තමන්ට දුප්පත්කම නිසා නම් එයා දුප්පත් කමින් නැගී හිටින්න වීරිය කරන්න ඕන. ඒ පීඩාව එන එක වළක්වගන්න ඕන. දැන් අපි ගේක ඉන්නකොට ගේ තෙමෙනවා නම් ගේ තෙමෙනවා කියලා මානසිකව වැටිලා හරියන් නෑ, එතකොට වහළෙ සෙවිලි කරගන්න ඕන. ජනේලයක් ළඟ ඉන්නකොට පිණිකඩ හිරිකඩ එනවා නම් අව්ව සැර ඇතුලට එනවා නම් ජනේලෙ වහගන්න ඕන. ඒවගේ අදාළ ප්‍රශ්නෙට උත්තරේ ගන්න ඕන. නැත්නම් අද කාලෙ තියෙන්නෙ මානසිකව වැටෙනවා. එතකොට මානසිකව වැටිලා එයා අමුතුම වෙලායනවා. ඒවා කිසිසේත් නොකර යුතුයි. අනික අද කාලෙ මේවා කිසි දේක තේරුමක් නෑ, මනුස්සයෙක් වැදගත් වෙන්නේම ක්‍රියාවෙන්. ඔහු කරන දේ අනුව. තමන් හොඳට ඉගෙන ගත්තා නම්, සමාජයේ යහපත් වුනා නම්, ඒ කෙනාට කවුරුත් හිස පහත් කරනවා. තමන් වැදගත් වුනා නම්. ඒ නිසා හොඳ වැදගත් කෙනෙක් වෙන්න. ඒ වගේම තමයි තමන් වැදගත් නැත්නම්

මොන වංශෙ වුනත් කවුරුවත් ගරු කරන් නෑ. මහා ඉහළින් තමන්ගේ වංශෙ කියාගෙන හිටියා කියලා ගරු කරන් නෑ. බුද්ධ කාලීන සමාජයේ ඒ තිබ්බ බ්‍රාහ්මණ, ක්ෂත්‍රිය, වෛශ්‍ය, ශුද්‍ර කියලා ඒ කුල හතරකින් තිබ්බ ඒ සමාජය මිනිස්සු බෙදි බෙදී තිබ්බ සමාජය බුදුරජාණන් වහන්සේ සම්පූර්ණයෙන්ම වෙනස් කලා. බුදුරජාණන් වහන්සේ සම්මා සම්බුද්ධත්වයට පත්වෙන්න කලින්ම සිහිනයක් දැක්කා. ඒ තමයි බුදුරජාණන් වහන්සේ දැක්කා සිහිනයක් සම්බුද්ධත්වයට පත්වෙන්න කලින් දවසේ රාත්‍රියේ ඒ තමයි පාට හතරකින් පක්ෂීන් පරවයෝ හතර දෙනෙක් හතර පැත්තෙන් ඇවිල්ලා තමන්ගේ පා ළඟ සුදු පාට පක්ෂීන් බවට පත්වෙලා ගියා, පාට හතර අත්හැරලා. ඒ වාගේ බ්‍රාහ්මණ, ක්ෂත්‍රිය, වෛශ්‍ය, ශුද්‍ර කියන කුල හතරෙන්ම බුදුරජාණන් වහන්සේ ළඟ පැවිදි වෙලා ඒ බුදුරජාණන් වහන්සේගේ පාමුල ඒ සියලු දෙනාම ශාක්‍ය පුත්‍ර ශ්‍රමණ බවට පත්වුනා. බුද්ධ පුත්‍ර. ඒ සුනීතයන් පවා වසුරු කද කරේ තියාගෙන හිටපු සැඩොල් කුලයේ ඉපදුනු කෙනෙක්. ඔහුට කර්මානුරූපව ඒකනේ කියන්නෙ කර්මානුරූපව ඒ ජීවිත වලට වැටෙන්නෙ. සංසාරෙ පසේ බුදුරජාණන් වහන්සේ නමක් වඩිනකොට පාරෙ ඉඩදීලා නැති කර්මෙටනෙ. එතකොට මිණිගෙඩි හොල්ල හොල්ල යන්නෙ සුනීත වසුරු කද කරේ තියාගෙන. ඊළඟට අරෙහනේ ප්‍රභූවරයෙක් දකිනකොට මෙහෙන් හැංඟෙන්න ඕන. රන්වන් සිරුරින් රන්වන් සිරිපා මිහිමඩලෙ තබා වඩින බුදුරජාණන් වහන්සේ දුටුවාට පස්සෙ සුනීතට හැංඟෙන්න තැනක් නෑ, ඒ බුදුරජාණන් වහන්සේ වඩිනකොට තාප්පෙට හේත්තු වුනා. බිම බලාගත්තා. දෙවියන් බඹුන් රාජ රාජ මහාමාත්‍යවරු දාසකමින් වදින මහාමුණිවරයා වඩිනවානෙ කියලා, මං දැන් මොකක්ද කරන්නෙ කියලා. ඊටපස්සෙ බිම බලාගෙන ගුලිවෙලා ඉන්නකොට දැක්කා සුනීත ඒ රත්තරන් පාට සිරිපා සඟල තමන් ළඟ තියෙනවා කියලා. බුදුරජාණන් වහන්සේ ළඟට වැඩලා. ඒ සිරිපා ළඟ දණ ගැහුවා. සුනීත, මහණ වෙන්න බැරිද කියලා ඇහුවා. අපි වාගේ අයත් මහණ කරනවාද කියලා ඇහුවා. ඔබ කැමැති නම් පුලුවන් කිව්වා. මාව පැවිදි කරගන්නා සේක්වා. භික්ෂුව මෙහි එන්න කිව්වා, ඍද්ධියෙන් පැවිදි වුනා. වසුරු ගඳ නෑ දැන්. මැස්සො, සුනීත කියනකොට ඔයාලා හිතන්නෙ ලස්සන සළු ඇඳගෙන ජටාව බැඳගෙන සුවඳ ගගහා ආපු තරුණයෙක්ද, මේ අශුචි අදින්නෙ. කෙස් රැවුලක් වත් කපලාද, ඇඳුම් අලුත් ඒවද, කිලිටිනෙ. ඒ ඔක්කොම අතුරුදහන් වුනා බුදුරජාණන් වහන්සේගේ වචනෙට. බුදුකෙනෙක්ගේ වචනෙට කය ඔය විදියට පිරිසිදු වෙනවා නම් මනස කෙසේ නම් පිරිසිදු වේද.

ඊටපස්සෙ සුනීතයන් මාර්ගය පුරුදු කලා, සිතද පිරිසිදු කලා. දවසක් උන්වහන්සේ භාවනාවෙන් ඉන්නකොට මහා බ්‍රහ්මයා ඇවිල්ලා දණගහලා වැඳගෙන ඉන්නවා. බුදුරජාණන් වහන්සේ අහනවා පින්වත් මහණෙනි, බ්‍රහ්මයෙක් බ්‍රහ්මයෙකුට වදිනවා. සුනීතයන් ළඟ මහා බ්‍රහ්මයන් දණගැස්සෙව්වානෙ මගේ බුදුරජාණන් වහන්සේ. කෝ කුලභේද. බුදුරජාණන් වහන්සේ නම් තුන් ලෝකෙටම ශ්‍රේෂ්ටයි. මේ සත්‍යය ධර්මය දේශනා කරපු බුදුරජාණන් වහන්සේ තුන්ලෝකෙටම ශ්‍රේෂ්ටයි. මාගේ ශාස්තෘන් වහන්සේ තුන් ලෝකෙටම ශ්‍රේෂ්ටයි. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම ඒ උතුම් ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම ඒ ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් තිසරණය අපගේ ජීවිතයට එකම පිළිසරණ වේවා.

ඉතින් අද ඒ විදියට සෙත් පතමින් අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහනේ පින් අනුමෝදන් කරනවා, ඉතාලියේ මිලානෝ නුවර පදිංචි පින්වත් පූජිත හඳුන්නෙත්ති මහත්මයා, වසන්ති ගුරුනාද මහත්මිය සහ වත්මී හඳුන්නෙත්ති දියණිය විසින් තමයි ඒ දියණියගේ 20 වෙනිදා දවසට යෙදෙන උපන්දිනය මුල් කරගෙන අනුමී හඳුන්නෙත්ති දියණියට සෙත් ප්‍රාර්ථනා කරන්න. ඉතින් අද දවසේ මේ උතුම් සම්බුදු සරණ දහම් වැඩසටහනින් රැස් කරගත්ත මේ දහම් කතාව, වාසෙට්ඨ සූත්‍රය අපි අද කතාබහ කලේ. ඒ සූත්‍ර දේශනාව ඇසුරින් භාග්‍යවතුන් වහන්සේගේ කරුණාව, නුවණ, ඥාණය, මනුස්සයො සමානව බුදුරජාණන් වහන්සේ දැකපු බව, සියලු දෙනාට සමානව සැලකූ බව, උස් පහත්කම් නොකළ බව, ඒ උපන් ජාතියට වඩා ක්‍රියාව ශ්‍රේෂ්ට කරගත්ත බව, බුදුරජාණන් වහන්සේ ළඟට කෙනෙක් ආවට පස්සෙ බුදුරජාණන් වහන්සේ හොයන්නෙ කොයිජාතියෙද කියලා නෙවෙයි ඔහු කරන්නෙ කුමක්ද කියලා. බුදුරජාණන් වහන්සේ ළඟට කෙනෙක් ඇවිල්ලා ඇහුවා ඔබවහන්සේගේ ජාතිය මොකක්ද කියලා, බුදුරජාණන් වහන්සේ වදාළා ජාතිය අහන්න එපා. මගෙන් අහන්න ඔබවහන්සේ මොනවද කරන්නෙ කියලා. මං එතකොට මං කරන දේවල් කියන්නම් කිව්වා. ඒකටම පැහැදුනානෙ බ්‍රාහ්මණයෙක්. ඒ නිසා ඒ භාග්‍යවතුන් වහන්සේගේ අනන්ත ගුණ කඳ අද කතා කලේ. ඒ පින් බලයෙන් අනුමී හඳුන්නෙත්ති දියණියටත්, ඒ පවුලේ සියලු දෙනාටත් නිදුක් නිරෝගී දීර්ඝායුෂ සැලසේවා. ඒ අනුමි හඳුන්නෙත්ති දියණියගේ අනාගත ජීවිතේ සම්බුදු සරණින් සැනසේවා කියලා පින්

පමුණුවනවා. සියලු දෙවියො පින් අනුමෝදන් වෙත්වා. සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම මියපරලොව ගිය ඥාතීන් මේ පින් අනුමෝදන් වෙත්වා. පරලොව සැපයට පත්වේවා. මේ මිහිරි උතුම් ශ්‍රී සද්ධර්මය අපිට කියලා දෙන, භාග්‍යවතුන් වහන්සේගේ අනන්ත ගුණ කඳින් පිරි ඒ සොඳුරු නගරයට අපි ඔබ කැන්දාගෙන ගිය අපේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ, බුදුරජාණන් වහන්සේගේ සම්බුදු නගරයට අපි කැඳවාගෙන ගියා. ඒ සම්බුදුරජාණන් වහන්සේ අපිට පෙන්නුවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා. නිරෝගී වේවා. සුවපත් වේවා, දීර්ඝායුෂම ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු සඟරුවනත් අනගාරිකා මෑණිවරුනුත් පැවිදි අපේක්ෂක දූපුතුනුත් මේ පින් අනුමෝදන් වී ධර්මාවබෝධය ලබත්වා. ඉතාලියේ මිලානෝ නුවර පදිංචි පූජිත හඳුන්නෙත්ති මහත්මයා, වසන්ති ගුරුනාද මහත්මයි, වත්මී හඳුන්නෙත්ති දියණිය, ඒ වගේම උපන්දිය සැමරූ අනුමි හඳුන්නෙත්ති දියණිය ඒ වගේම සුභාෂිණී ස්වර්ණපාලි මෑණියන්ට, ඒ වගේම රමණී කුරුප්පු මෑණියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා. මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට මේ පින් අනුමෝදන් වේවා. ශ්‍රද්ධා රූපවාහිනිය, ලක්විරු ගුවන්විදුලියෙන් ධර්මය අහන ඔබ සියලු දෙනාට, ඒ වගේම කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට අපි කාටත් අසිරිමත් සම්බුදු සරණින් සැනසී ගෞතම සසුනේ පිහිට පිළිසරණ ලබාගන්න, දුක් කෙළවර කරන්න මේ පින් ඒකාන්තයෙන් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=WARLuI7miyE&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=86

සාධූ සාධූ සාධූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තියම ලැබෙත්වා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන අද ඔබ ශ්‍රවණය කරන්නෙ. භාග්‍යවතුන් වහන්සේගේ අසිරිමත් සම්බුදු දිවිය ඒ සම්බුදු ජීවිතය ගත කරපු විදිය අපේ සිත පහන් කරවනවා. තුන් ලෝකෙටම මේ සා ආනුභාව සම්පන්න උතුම් නරෝත්තමයන් වහන්සේ නමක්, තවත් බුදුරජාණන් වහන්සේ නමක් හැර පහළ වෙන්නෙ නෑ. ඉතින් ඒ නිසා අදත් අපි ඒ බුදුරජාණන් වහන්සේ විසින් අපිට අතීතයේ වැසී තිබුනු ලෝක සත්‍යයක් දේශනා කරපු ආකාරය අද ඉගෙන ගන්නෙ. ලෝකය හැදෙන හැටි. ඉතින් මේ දේශනාව සඳහා හොංකොං හි සේවයේ නියුතු පින්වත් ශෂිකා මධුවන්ති, සුජීවා මංගලී, තනූජා චන්ද්‍රාණි ඒ වගේම නිරෝෂිමා පතිරණ යන අය හා යුද හමුදාවේ සේවයේ නියුතු ඩී.ඩී. අජිත් නන්දසිරි යන පින්වතුන් දායකත්වය දරනවා. ඉතින් හොංකොං වල සේවයේ නියුතු ඒ පින්වතුනුත්, යුද හමුදාවේ සේවයේ නියුතු ඒ පින්වතාත් අද ධර්ම දානයට සහසම්බන්ධ වෙලා ලෝකයේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය අහන්න කැමැති අයට ධර්මය අහන්න සළස්වන පින් බලය ඔබට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා. ඒ නිසා දැන් අද අපි ඉගෙන ගනිමු ලෝකය හැදෙන හැටි. එතකොට මේ දේශනාව අද කරන්න කල්පනා කලේ මීට කලින් කරපු සූත්‍ර දේශනා වලත් අපිට මුණගැහුනා වාසෙට්ඨ, භාරද්වාජ කියලා බ්‍රාහ්මණ තරුණයන් දෙදෙනෙක්. ඉතින් ඒ දෙදෙනා බුදුරජාණන් වහන්සේගෙන් ධර්මය අහලා ගොඩාක් පැහැදිලා පැවිදි වුනා. පැවිදි වුනාට පස්සෙ වෙච්චි සිද්ධිය තමයි තියෙන්නෙ මේ සූත්‍ර දේශනාව අග්ගඤ්ඤ සූත්‍රය. ලෝකයේ සකස්වීම පිළිබඳව පිළිගත් දේ ගැන වදාළ දෙසුම. මේ දේශනාව ඉතාමත් ශ්‍රද්ධාවෙන් ශ්‍රවණය කළයුතු එකක්. වාද භේද මතිමතාන්තර දුරු කරගත යුතු දෙයක්.  ඒ කාලෙ භාග්‍යවතුන් වහන්සේ

පූර්වාරාමයේ වැඩ හිටියේ. මිගාර මාතු ප්‍රාසාදයේ. වාසෙට්ඨ භාරද්වාජ සාමණේර දෙදෙනා භික්ෂු භාවය බලාපොරොත්තුවෙන් භික්ෂූන් යටතේ වාසය කරනවා ඒ කාලෙ. එතකොට බලන්න සාමණේර අය හිතුවක්කාර විදියට තනි තනියෙන් එහෙ මෙහෙ යන් නෑ, උපසම්පදාව බලාපොරොත්තුවෙන් භික්ෂූන්ගේ යටතේ හික්මෙන්න ඕන. බුද්ධ කාලෙත් එහෙමයි. එකල්හි භාග්‍යවතුන් වහන්සේ සවස් කාලයේ භාවනාවෙන් නැගිටලා ප්‍රාසාදයෙන් පහළට වැඩම කරලා ප්‍රාසාද හෙවනැල්ලේ සක්මන් කලා. එතකොට වාසෙට්ඨ, වාසෙට්ඨත් භාවනාවෙන් නැගිටලා ප්‍රාසාදයෙන් එනකොට බුදුරජාණන් වහන්සේ දුටුවා. වාසෙට්ඨ භාරද්වාජට කියනවා, භාරද්වාජයෙනි, භාග්‍යවතුන් වහන්සේ අර එළිමහනේ සෙවණැල්ලේ සක්මන් කරනවා. අපි බුදුරජාණන් වහන්සේ ළඟට ගියොත් අපිට දහම් කතාවක් අහන්න පුලුවන්. එහෙනම් අපි යං කියලා දෙන්නා කතා වෙලා බුදුරජාණන් වහන්සේ සක්මන් කරන තැන මේ දෙන්නත් පොඩ්ඩක් සක්මන් කලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ සක්මන් කරන එක නතර කලා. මේ දෙනම වහන්සේ වාසෙට්ඨ, භාරද්වාජ බුදුරජාණන් වහන්සේට වන්දනා කලා. බුදුරජාණන් වහන්සේ වාසෙට්ඨගෙන් අහනවා වාසෙට්ඨ ඔබලා වනාහි බ්‍රාහ්මණ වංශිකව සිට කුලවත් බ්‍රාහ්මණයන්ව සිට බ්‍රාහ්මණ කුලය අත්හැර ගිහිගෙයින් නික්ම අනගාරික බුද්ධ ශාසනයේ පැවිදි වුනා. ඇත්තටම වාසෙට්ඨ ඔය බමුණෝ දැන් බනින් නැද්ද ඔයාලට. බමුණු ආගම අත්හැරලා මහණ වුනා කියලා. ස්වාමීනී බ්‍රාහ්මණයො තමන්ට හුරුපුරුදු පරිභවයෙන් අසම්පූර්ණ කොට නොව, පිරිපුන් කොට අපිට අක්‍රෝශ කරත්මය, පරිභව කරත්මය. ඒකෙ අඩුවක් නෑ කියලා කියන්නෙ. පිණ්ඩපාතෙ යනකොට එනකොට දකිනකොට බැනුම් වල නම් අඩුවක් නෑ. එතකොට ඒ කාලෙ හිතන්න බුදුරජාණන් වහන්සේ ළඟ මහණ වුනා කියලා බමුණෝ කරපු පරිභව. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා මොකක්ද ඔය, මොනවා කියලද බනින්නෙ. ඊටපස්සෙ වාසෙට්ඨ කියනවා මට බනින්නෙ ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, බ්‍රාහ්මණ වංශයම තමයි ශ්‍රේෂ්ට. අන්‍ය වංශයෝ හීනයි. බ්‍රාහ්මණ වංශය සුදුයි. අන්‍ය වංශයෝ කලුයි. බ්‍රාහ්මණයො ශුද්ධයි. බ්‍රාහ්මණයො නොවූ අශුද්ධයි. බ්‍රාහ්මණයො බ්‍රහ්මයාගේ ඖරස පුත්‍රයෝ. බ්‍රහ්මයාගේ මුවින් උපන්න කෙනා. බ්‍රහ්මයන් බ්‍රහ්මයාගෙන්ම ඉපදුනු කෙනා. බ්‍රහ්මයා විසින් මවන කෙනා. බ්‍රහ්මයාගේ දායාදය වූ වේදය උරුමක්කාරයෝ. ඒ ශ්‍රේෂ්ට වූ වංශය අත්හැර මහබඹුගේ පාදයෙන් උපන් කළු වූ දාස වූ මුඩු ශ්‍රමණයන් කෙරෙහි ලාමක

වංශයකට උඹලා ගියා. ශ්‍රේෂ්ට වංශය අත්හැරලා මහබඹාගේ පාදයෙන් උපන් කළු වූ දාස වූ මුඩු ශ්‍රමණයන් කෙරෙහි ලාමක වංශයකට බැස ගත්තා. මේක උඹලට හොඳක් නම් නෙවෙයි. මේකෙන් උඹලට හොඳක් නම් වෙන් නෑ කියලා බලාගමුකො කියලා දැන් ඔන්න බමුණො බනිනවා. ඉතින් ස්වාමීනී අඩුවක් නෑ කිව්වා බැනුම් වල නම්. වාසෙට්ඨ, බ්‍රාහ්මණයො ඔබට පුරාණ කතාව සිහි නොකොට මෙසේ කීවාහුය. ඔය බ්‍රාහ්මණයො ශ්‍රේෂ්ටයි අනිත් අය පහත් මුඩු ශ්‍රමණයො ළඟට ගියා, මහා බ්‍රහ්මයාගේ යටිපතුලෙන් උපන්නෙ, බ්‍රාහ්මණයො තමයි ඖරස පුත්‍රයො කිය කියා මේ දොස් කිව්වා නේද, පුරාණ කතාව දන්නෑ කිව්වා. බ්‍රාහ්මණයාගේ පුරාණ කතාව දන්නැතිව කිව්වා, මහා බ්‍රහ්මයාගේ මුවින් ඉපදුනා කිය කියා බනිනවා කිව්වා. දැන් ඕකෙන් වෙන්නෙ මොකක්ද, ඔහු බ්‍රහ්මයාටම නින්දා කරයි, බොරු කියයි, බොහෝ පව් කරනවා. කියනවා මහා බ්‍රහ්මයාගේ මුවින් උපන්නා කියනවා. වාසෙට්ඨ පෙනි පෙනීම අම්මා කෙනෙක්ගේ කුසෙන් ඉපදෙන, අම්මා කෙනෙක්ගේ කුසෙන් උපදිනවානෙ පෙනි පෙනීම. එහෙම තියෙද්දින්ම කියනවා මහා බ්‍රහ්මයාගේ මුවින් ඉපදුනා කියලා. එතකොට ඒ ස්ත්‍රියකගේ දරුවන් ඉපදෙන ස්ථානය බ්‍රහ්මයාගේ මුවට සමාන කරලා බ්‍රහ්මයාට නින්දා කරනවා ඒ මිනිස්සු. බොහෝ පව් රැස් කරගන්නවා කිව්වා. ඊටපස්සෙ කිව්වා වාසෙට්ඨ, ක්ෂත්‍රිය, බ්‍රාහ්මණ, වෛශ්‍ය, ශුද්‍ර කියලා කුල හතරක් තියෙනවානෙ. වාසෙට්ඨ, ක්ෂත්‍රිය කුලයේ, රජ කුලයේත් ඉන්නවා සත්තු මරන, හොරකම් කරන, වැරදි කාමසේවනය කරන, බොරු කියන, කේලාම් කියන, හිස් වචන කියන, පරුෂ වචන කියන ලෝභයෙන් ඉන්න, ඒ වගේම ව්‍යාපාදයෙන්, මිත්‍යා දෘෂ්ටියෙන් ඉන්න, දස අකුසල් කරන අය ඉන්නවා රජ කුලයේත්. වාසෙට්ඨ, දස අකුසල් කරන අය, සත්පුරුෂයො ගරහන පව් කරන අය බමුණු කුලෙත් ඉන්නවා. දස අකුසල් කරන, සත්පුරුෂයො ගරහන පව් කරන අය වෙළෙඳ කුලෙත් ඉන්නවා. දස අකුසල් කරන, පව් කරන අය ශුද්‍රයො අතරත් ඉන්නවා. ඒ අය ලාමක ඒ අධර්මයෝ ඒ අයත් දකින්න ලැබෙනවා. ඉතින් ඒ වගේම දස කුසල් කරන, සත්තු මරන්නැති, හොරකම් කරන්නැති, වැරදි කාමසේවනය කරන්නැති, බොරු කියන්නැති, කේලම් කියන්නැති, පරුෂ වචන කියන්නැති, හිස් වචන කියන් නැති, ලෝභය අඩු, ඒ වගේම තරහා අඩු, මිත්‍යා දෘෂ්ටිය දුරු කරපු, සම්මා දිට්ඨිය තියෙන අය රජ කුලයේත් ඉන්නවා. බමුණු කුලයේත් ඉන්නවා, වෙළෙඳ කුලයේත් ඉන්නවා, ශුද්‍ර කුලේත් ඉන්නවා. ඉතින් ඒ කුල හැම එකකම හොඳ නරක ඔය විදියට පේන්න තියෙනවා නම් වාසෙට්ඨ මොකක්ද වෙනස. කට්ටියක් ප්‍රශංසා ලබන්නත්,

කථ්ථියක් නින්දා ලබන්නත් මොකක්ද වාසෙට්ඨ මේකෙ තියෙන වෙනස. වාසෙට්ඨ, මේ සතර වංශයෙන්ම හොඳ නරක දෙකම ප්‍රකට වෙනවා. ඒ නිසා වාසෙට්ඨ, ඒ කියන බමුණො කියනවානෙ අපිමයි උරුමක්කාරයො, බ්‍රහ්මයාගේ ඖරස පුත්‍රයො මුවින් උපන්නෙ අනිත් අය හීනයි කියලා. ඒකට හේතුව මොකක්ද, එහෙම කියලා අනිත් අය පහත් කරනවානෙ. ඒක සුදුසු නෑ, වාසෙට්ඨ, මොහොතක් කල්පනා කරන්න. බ්‍රාහ්මණ, ක්ෂත්‍රිය, වෛශ්‍ය, ශුද්‍ර කියන කුල හතරෙන්ම කෙනෙක් ඇවිල්ලා බුද්ධ ශාසනේ පැවිදි වෙලා අර්හත්වයට පත්වුනොත් එහෙම ඒ අර්හත්වයට පත්වෙච්චි කෙනා තමයි සියලු දෙනා අතරම ශ්‍රේෂ්ට. ඒත් වාසෙට්ඨ ඒ අය උපතින්වත් කුලයෙන්වත් නෙවෙයි එහෙම ශ්‍රේෂ්ට වෙන්නෙ, ධර්මයෙන්මයි. ධර්මයෙන්මයි. ඒ නිසා වාසෙට්ඨ, මෙලොවත් පරලොවත් ජනයා අතර ශ්‍රේෂ්ට වෙන්නෙ ධර්මයමයි. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා වාසෙට්ඨ, මෙලොවත් පරලොවත් ජනයා අතර ධර්මය ශ්‍රේෂ්ට වෙයිද, ඒකට මං උපමාවක් කියන්නම්. වාසෙට්ඨ කොසොල් මහා රජ්ජුරුවන්ට කපිලවස්තුවේ ශාක්‍යයො ඒ රජතුමාට හරියට ගරු බුහුමන් කරනවා. වඳිනවා පුදනවා, සත්කාර කරනවා, යටහත් පහත්කම් කරනවා. දැකලා හුනස්නෙන් නැගිටිනවා, මේ වාසෙට්ඨ, කොසොල් රජ්ජුරුවන්ට මුළු ශාක්‍ය වංශයේ අයම වඳිනවා පුදනවා ගරු කරනවා. කොසොල් මහා රජ්ජුරුවො භාග්‍යවතුන් වහන්සේ දැකලා, බුදුරජාණන් වහන්සේ දැකලා වඳිනවා, පුදනවා, සත්කාර කරනවා, දැක හුනස්නෙන් නැගිටිනවා. ශාක්‍ය කුලයේ යම්තාක් ගරු කරනවාද කොසොල් රජ්ජුරුවන්ට, කොසොල් රජ්ජුරුවො ඒ ගෞරවය ඒ විදියටම බුදුරජාණන් වහන්සේට දෙනවා. ඉතින් මොකක් කියලද හිතන්නෙ වාසෙට්ඨ, ඒ විදියට කොසොල් රජ්ජුරුවො මට ගරු කරන්නෙ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මනාකොට ඉපදිච්චි කෙනෙක්, හොඳ උපතක් තියෙන කෙනෙක්, මට හොඳ උපතක් නෑ කියලා හිතලද. නෑ වාසෙට්ඨ, වාසෙට්ඨ හිතන්නෙ කොහොමද, කොසොල් මහා රජ්ජුරුවො මට ඔච්චර ගරු කරන්නෙ වන්දනාමාන කරන්නෙ භාග්‍යවතුන් වහන්සේ හරි බලවත්, මම දුර්වලයෙක් කියලා හිතලද. කොසොල් මහාරජ්ජුරුවො භාග්‍යවතුන් වහන්සේට ඕචචර ගරු කරන්නෙ, කොසොල් රජ්ජුරුවො විරූපියි, බුදුරජාණන් වහන්සේ ලස්සනයි කියලා හිතලද. කොසොල් රජ්ජුරුවො ඔය විදියට බුදුරජාණන් වහන්සේට ගරු කරන්නෙ භාග්‍යවතුන් වහන්සේ මහේශාක්‍යයි, මම අල්පේශාක්‍යයි කියලා හිතලාද. එහෙම නෑ, වාසෙට්ඨ, කොසොල් රජ්ජුරුවො බුදුරජාණන් වහන්සේට ගරු

කරන්නෙ ධර්මයට. ධර්මයටමයි සත්කාර කරන්නෙ, ධර්මයටමයි ගරු කරන්නෙ, ධර්මයටමයි බුහුමන් කරන්නෙ, ධර්මයටමයි පුදන්නෙ, ධර්මයටමයි අවනත වෙන්නෙ. පසේනදි කොසොල් රජ්ජුරුවන්ගේ ආදර දැක්වීම්, වැඳීම්, දැක හුනස්නෙන් නැගිටීම, ප්‍රණාම, වත්පිළිවෙත් යමක් ඇත්ද, වාසෙට්ඨ, යම්සේ මෙලොවත් පරලොවත් ජනයා අතර ධර්මයම ශ්‍රේෂ්ට වෙයි ද එය මේ ආකාරයෙනුත් තේරුම් ගන්න කිව්වා. පුදුම සහගතයි. බුදුරජාණන් වහන්සේ පවා දේශනා කරනවා තමන්ට මේ රජවරු වඳින්නෙ පුදන්නෙ ගරු කරන්නෙ සියලු දෙනා ධර්මය නිසා කියලා. එහෙනම් අද කාලෙ ශ්‍රමණයන් වහන්සේලා කොහොම හිතන්න ඕනද. මේ හැමදෙයක්ම ධර්මය නිසා. ධර්මය නිසාමයි. වාසෙට්ඨ, ඔබලා වනාහි නානා ජාතීන්ට අයත්ව නා නා නම් වලට අයත්ව, නා නා ගෝත්‍රවලට අයත්ව, නා නා කුල වලට අයත්ව ගිහිගෙයින් නික්ම බුදු සසුනේ පැවිදි වුනා. දැන් ඔයාලා කවුද කියලා ඇහුවොත් එහෙම වාසෙට්ඨ හරියට උත්තර දෙනවා නම් දෙන්න ඕන ශාක්‍ය පුත්‍ර ශ්‍රමණ කියලා. වාසෙට්ඨ යමෙක් තුළ තියෙනවා නම් ශ්‍රද්ධාව මැනැවින් පිහිටලා මුල් බැසගෙන බලවත්ව, කිසිම ශ්‍රමණ බ්‍රාහ්මණයෙකුට, මාරයෙකුටත් හොල්ලන්න බැරි ශ්‍රද්ධාවක් බුදුරජාණන් වහන්සේ ගැන කෙනෙක්ගේ හිතේ තියෙනවා නම් ආන්න ඒ කෙනාට සුදුසුයි මම බුදුරජාණන් වහන්සේගේ ඖරස පුත්‍රයෙක්, හද මඩලෙන් ඉපදුනු පුතෙක් කියලා කියන්න සුදුසුයි. කිසි කෙනෙකුට හොලවන්න බැරි ශ්‍රද්ධාවක් හදවතේ තියෙනවා නම්. භාග්‍යවතුන් වහන්සේගේ මුවින් උපන්, ධර්මයෙන් උපන්, බුදුරජාණන් වහන්සේගේ මුවින් ඉපදුනු කෙනා කියලා කියන්න සුදුසුයි එයාට. ඇයි, භාග්‍යවතුන් වහන්සේගේ හදමඩලනේ පැන නැගෙන ධර්මය මුවමඩලෙන් නිකුත් වෙනවා. එයින් තමයි ශ්‍රාවකයෙක් බිහි වෙන්නෙ. ඒ නිසා ශ්‍රාවකයාට කියනවා බුදුරජාණන් වහන්සේගේ මුවමඩළෙන් ඉපදුනු කෙනා කියලා. ඊටපස්සෙ ධර්මයෙන් ඉපදුනු කෙනා, ධර්මයෙන් මවපු කෙනා, ධර්මයේ උරුමක්කාරයා කියලා ඒ අයට කියන්න පුලුවන්. වාසෙට්ඨ, ධර්මකාය බ්‍රහ්මකාය, ධර්මයෙන් හටගත්ත බව ශ්‍රේෂ්ටත්වයට පත්වුනා කියලා හඳුන්වන්න පුලුවන් ශ්‍රද්ධාව සෙලවෙන්නේ නැති කෙනෙක්ගේ ජීවිතයට. වාසෙට්ඨ, මේ ලෝකය හැදුනු හැටි කියලා දෙන්නම් කියලා බුදුරජාණන් වහන්සේ මේ වෙලාවේ මේ කුලවංශ හැදිච්චි හැටි කියලා දෙනවා. හැබැයි ඒක විස්තර කරන්නෙ ලෝකය හැදිච්චි හැටි. මේ මනුස්ස වර්ගයා බිහිවෙච්චි හැටි. එතකොට මේ මනුස්ස වර්ගයාගේ, ගහකොළ සතා සීපාවා ඒ අය හැදිච්චි ක්‍රමයක් තියෙනවා. මනුස්ස වර්ගයා හැදිච්ච හැටි මේ කියන්නෙ.

වාසෙට්ඨ අති දීර්ඝ කාලයක් ඇවෑමෙන් යම්කිසි කලෙක මේ ලෝකය නැසෙයි ද එබඳු කාලයක් එන්නේය. ලෝකය නැසෙන කල්හි බොහෝ සෙයින් සත්ත්වයෝ ආභස්සර ලෝකයේ උපදිති. සත්තසුරියුග්ගමන සූත්‍රයේ තියෙන්නෙ. ලෝකයේ ඉරවල් හතක් පායලා, මේ ලෝකය ගිනිගෙන දැවෙනවා. කොහොම වෙයිද කියලා හිතෙනවා, බලන්න පහුගිය කාලෙ අර ලෙබනන් රටේ අර වායු පිපිරීමක් ඇතිවෙච්ච වෙලාවේ මොහොතින් විශාල ප්‍රදේශයක් මොහොතින් පොළොවට සමතලා වුනානෙ. කොහොමද මේ ඉරවල් හතක් පායලා විනාශ වෙනවා කියනකොට. මිනිස්සු හිතුවෙ නැතිවුනාට මේ අවුරුදු ගණන්, දශක ගණන්, සියවස් ගණන් ගොඩනගන ලෝකය තත්පරයට බිමට හෙලන්න පුලුවන්. තත්පරේට සමතලා කරන්න පුලුවන්. කාලයක් එනවා මේ ලෝකය නැසී වැනසී යන කාලයක්. ඒ කාලෙට බොහෝ සත්ත්වයො ආභස්සර ලෝකෙ ඉපදෙන්නෙ. ඒ ලෝකෙ ඉපදුනාම, එයාලගේ ජීවිතේ මානසිකව හටගත්තු ජීවිතයක්. ස්වයංප්‍රභා, තමන්ගේ ශරීරයෙන් එළිය විහිදෙනවා. පීතිබක්කා, ප්‍රීතිය තමයි ආහාර කරගන්නෙ. අන්තලික්ඛ චරා, ආකාශයේ තමයි ගමන් කරන්නෙ. සොඳුරු ලෙස සිටිමින් අති දීර්ඝ කාලයක් ඉන්නවා, ගොඩාක් ආයුෂ තියෙනවා ඒ කාලෙට. මේ ලෝකය නැසිලා ආභස්සර ලෝකයේ ඉන්න කාලෙ ඔය කියන්නෙ. එතකොට කල්ප විනාශයක් ගැන මේ කියන්නෙ. ලෝක විනාශයක් ගැන කියන්නෙ. එතකොට මේකට අතිදීර්ඝ කාලයක් යනවා. එතකොට ඉදිරියට වෙන එක, දැන් බලන්න මේ කල්පය කොටස් හයකට බෙදලා ඒ මුල් කොටස් දෙකේ තමයි බුදුවරු පස් නමක් පහළ වෙන්නෙ. ඒ වාගේ කොටස් හතරක් තව තියෙනවා. එතකොට අද හෙට වෙන එකක් නෙවෙයි මේ කියන්නෙ. ඉරවල් හතක් පායන කතා. මේ කියන්නෙ ඉස්සර මනුස්ස වර්ගයා බිහිවෙච්චි හැටි. වාසෙට්ඨ ඉතා දීර්ඝ කාලයක් ඇවෑමෙන් මේවා කදහචි කරහචි, කවදාහරි දවසක ගොඩාක් කල් යනවා මේකට. යම් කලෙක ලෝකය නැවැත හැදෙයිද එබඳු කාලයක් යනවා. ඒ කාලයේ බොහෝ සෙයින් ආභස්සර සත්ත්වයෝ ඒ ලෝකයෙන් චුත වෙලා මේ ලෝකයේ ඉපදෙනවා. ඒ මේ ලෝකයේ ඉපදෙන්නෙත් ආකාසෙන් යන්නෙ, ශරීරයෙන් එළිය විහිදෙනවා. ඒ වගේම ප්‍රීතිය තමයි අනුභව කරන්නෙ. ඉතාමත් සොඳුරු විදියට දීර්ඝ කාලයක් ඉන්නවා. අර ලෝකය හැදිච්ච මේ පෘථිවිය ඇසුරු කරගෙන. වාසෙට්ඨ එසමයෙහි මේ පෘථිවිය එකම ජලකදක්ව තියෙන්නෙ, පොළොවක් නෑ, ජලය තියෙන්නෙ. තනිකර වතුර බෝලයක්. මහා අන්ධකාරයි, සඳ හිරු දෙදෙනා පේන්නෙ නෑ, නැකැත් තරු පේන් නෑ, රෑ දවල්, මාස, අඩමාස, අවුරුදු, කාලගුණ,

ස්ත්‍රී පුරුෂයො කවුරුවත් එහෙම විශේෂයක් නෑ. එකල්හි වාසෙට්ඨ ඒ සත්ත්වයන් හට බොහෝ දීර්ඝ කාලයක් ගත වූ පසු කිසියම් කලෙක නිවෙන්නා වූ උණු කල කිරි මතුපිට යොදයක් තිබෙන්නේ යම් සේද, උණු කරපු කිරි ටිකක් නිවෙන්න හරිනකොට උඩට යොදයක් හැදෙන්නෙ. ආන්න ඒවගේ දිය මතුපිට රස පොළොව පැතිර පහළ වෙයි. වතුර මතුපිට අර කිරිවල උඩ යොදය වගේ නිකං රස පොළොවක් කියලා එකක් හැදෙනවා. ඊටපස්සෙ එය මනා පැහැයෙන්, මනා සුවඳින්, මනා රසයෙන් යුක්තයි. රසවත් ගිතෙල්, රසවත් වෙඬරු යම් පැහැයෙන් යුක්තයි ද, ඒවගේ පැහැය. දඬුවැල් බෑ මීවදය යම්සේ රසයි ද ඒ වගේ කියනවා පොළොවේ රස. එකල්හි වාසෙට්ඨ ලොල් ගතියකින් යුත් එක්තරා සත්ත්වයෙක් දැන් අර ආකාසෙන් යන එළිය තියෙන, ආභස්සර ලෝකෙන් චුතවෙලා මේ පෘථිවියේ වතුර ඇසුරු කරගෙන අහසින් යන පිරිසක් පහළ වුනානෙ. ඒකෙන් එක ලොල් සත්ත්වයෙක් - කවුද දන්නෑ කෙනා - ලොල් සත්ත්වයෙක් පොළොවේ ඇඟිල්ල මෙහෙම අර වතුරේ පාවෙන අර යොදය මෙහෙම ඇඟිල්ලෙ ගාලා දිවේ ගාලා බැලුවා. හරී රහයි. ඊටපස්සෙ මෙයා මොකද කලේ, දැන් මෙයාට තෘෂ්ණාව ඇතිවුනා. වාසෙට්ඨ, අන්‍ය වූ සත්ත්වයෝත් ඒ ක්‍රියාව දැක එයට අනුව පැමිණෙමින් රස පොළොව ඇඟිල්ලෙන් ගෙන රස බැලූහ. රස පොළොව ඇඟිල්ලෙන් ගෙන රස බැලූ ඔවුනුත් එයට කැමැති වූහ. ඔවුන් තුළද ඒ කෙරෙහි රස තෘෂ්ණාව බැසගත්තේය. එක්කෙනෙක් කලොත් අනිත් එක්කෙනත් කලා. එහෙනම් මේක ඉස්සර කාලෙ ඉඳලා එන එකක්. අපිට මතකයි ඉස්කෝලෙ යන කාලෙ කවුරුහරි ළමයෙක් කැසිකිලි කරන්න ගියොත් ඔක්කෝම යනවා. එක්කෙනාටයි අවශ්‍යතාව ඇතිවුනේ, ඔක්කොම යනවා. මේවා සමහර වෙලාවට ඒවගෙන් ශේෂ වෙච්චි දේවල් වෙන්න ඇති. දැන් එක්කෙනෙක් මේක කෑවෙ, අනිත් එවුනුත් ඇඟිල්ල ගහලා බැලුවා. ඉක්බිති වාසෙට්ඨ, ඒ සත්ත්වයෝ රස පොළොව වළඳන්න අත්වලින් පිඬු කිරීමට වෙහෙසුනා. අර මදි වගේ. ඒ නිසා පොඩ්ඩක් ගුලි කලා අග්ගලා වගේ. ඒ විදියට වළඳන්න ගත්තට පස්සෙ මේ සත්ත්වයන්ගේ සිරුරේ එළිය අතුරුදහන් වුනා. සිරුරේ එළිය අතුරුදහන් වුනා. එළිය අතුරුදහන් වුනාට පස්සෙ හිරු සඳු පහළ වුනා, නැකැත් තරු පහළ වුනා. රෑ දවල් පහළ වුනා, අඩ මාස, මාස, අවුරුදු, වර්ෂ, කාලගුණ, මේවා ලෝකයේ පහළ වුනා. මිනිස්සුන්ගේ ශරීරයේ ආලෝකය නැතිවෙනකොට. එතෙක් මිනිස්සුන්ට ආලෝකයක අවශ්‍යතාවයක් තිබ්බෙ නෑ, ඒ කල්හි වාසෙට්ඨ, ඒ සත්ත්වයෝ රස පොළොව අනුභව කරමින්, එය වළඳමින් එය ආහාර කොට ගෙන ඉතා

දීර්ඝ කාලයක් හිටියා. දීර්ඝ කාලයක්. ඒ අතරතුර වෙනත් ගස් කොළං තව තව පොළොව හැදෙන ඒවා ඒ අතරතුර සිද්ධ වෙනවා. මේ විදියට රස පොළොව වළඳමින් ඉන්නකොට දීර්ඝ කාලයක් යනකොට සත්තවයන්ගේ ශරීරය ගොරෝසුකම, කලින් තිබ්බෙ මානසිකව හටගත්තු සියුම් ශරීරනෙ. ඒවා ගොරෝසු වෙන්න ගත්තා. එහෙම ගොරෝසු වෙනකොට කට්ටියක් ලස්සනට පේනවා, කට්ටියක් එච්චර ලස්සන නෑ, අර රූපී විරූපී කියන දෙක පොඩ්ඩක් පේන්න ගත්තා. ලස්සන කැත කියන එක. එතකොට අර ටිකක් අනිත් අය අතරින් ලස්සන අයට සිතිවිල්ලක් එන්න ගත්තා අපි නෙව ලස්සන, මෙවුන් ලස්සන නෑ නෙව කියලා අනිත් අය ගැන හිතුනා මාන්නය ආවා. මාන්නය, අතිමාන්නය ආවා. මාන්නය, අතිමාන්නය එනකොට රසපොළොව අතුරුදහන් වුනා. බලන්න අර පොළොවේ තියෙන දේවල් කෑම නිසා තමයි රූප වල වෙනස්කම් ආවෙ. ඒ රූප මුල් කරගෙන මාන්නය එනකොට එය හටගන්න මුල්වෙච්චි දේ අතුරුදහන් වුනා. පොළොවේ රස නෑ දැන්. රස පොලොව අතුරුදහන් වී ගිය කල්හි ඒ අය රැස් වුනා. අහෝ, රසයි, අහෝ රසයි, අනේ රස, අනේ රස කියලා කිව්වා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා මෙකල්හිත් මිනිස්සු කිසියම් මිහිරි රසයක් ලැබ අහෝ රසයි, අහෝ රසයි යනුවෙන් මෙසේ කියති. අදත් රසයක් අරන් රස දෙයක් ලැබුනොත් මිනිස්සු එකතු වෙලා අප්පේ රස, අප්පේ රස කියලා කියනවානෙ. ඒ පැරණි වූ යලි ලෝකය සකස් වීමේ මුල් අවධිය පිළිබඳව නොගෙවුනු මතකය සිහි කරනවා. ඒත් එහි තේරුම මිනිස්සු දන්නෙ නෑ. අර අතීතයේ එකක් තමයි ඔය එන්නෙ. නමුත් මිනිස්සු දන්නෑ ඇයි අර රසවත් කෑමක් කනකොට අප්පේ රස, අප්පේ රස කියලා ඇයි එහෙම කියන්නෙ කියලා දන්නෙ නෑ. වාසෙට්ඨ, එකල්හි ඒ සත්ත්වයන් හට රස පොළොව අතුරුදහන් වෙලා යනකොට ඒ සත්ත්වයන්ට ආහාර පිණිස භූමි පප්පට කියලා බිම් හතු පොළොවේ හැදෙන දෙයක් පහළ වුනා. නානා හතු යම් සේම එහිම පහළ වූයේය. ඒ බිම් හතු මනා පැහයෙන්ද, මනා සුවඳින් ද, මනා රසයෙන්ද වූයේය. රසවත් ගිතෙල්. රසවත් වෙඬරු යම් සේද, පිරිසිදු දඬුවැල් බෑ මී වද යම් සේද, එසේම රසවත් වූයේය. කලින් අර සම්පූර්ණයෙන්ම පොලොවේ තිබ්බ රස දැන් අර බිම්හතු වල තියෙනවා. ඔන්න බිම්හතු දැන් කනවා. මේ ඔක්කෝම වෙලා තියෙන්නෙ කෑමක් මුල් කරගෙන. කට නිසාමයි ඔක්කොට පටන් අරගෙන තියෙන්නෙ. ඊටපස්සෙ බිම්හතු අනුභව කරන්න ගත්තට පස්සෙ, ඒක අනුභව කරමින් වළඳාගෙන ඉන්නකොට, මොකද වුනේ, දීර්ඝ කාලයක් හිටියා. ඉන්නකොට දැන් මේ ඔක්කොම දීර්ඝායුෂ. අර තව තව ශරීරය

ගොරෝසු වෙනවා. සියුම්ව තිබ්බ, බ්‍රහ්මයන්ගේ වගේනෙ. ඒ ශරීර තව තව ගොරෝසු වුනා. ගොරෝසු වෙනකොට තව තව ලස්සන කැත කියන එක ප්‍රකට වෙන්න ගත්තා. එතකොට අර ලස්සන අය කැත අය දිහා බලලා අප්පේ අපි නෙව ලස්සන මුං කැතයි කියලා මාන්නය ආවා. ඒ කාලයේ ඉක්මණට ඉක්මණට අර වෙනස පේනවානෙ. මුල්ම කාලෙනෙ. දැන් අද කාලෙ පවා ලස්සන අය කැත අය දිහා බලලා අපි ලස්සනයි මෙයාලා කැතයි කියලා කියනකොට එයාලගේ අභ්‍යන්තරයේ කොච්චර පිරිහීම් වෙනවා ඇතිද. ලස්සන කැත සන්සන්දනය කරන්න යෑමෙන්. කොච්චර අභ්‍යන්තරයේ පිරිහීම් සහ අභ්‍යන්තරයේ අහිමිවීම් කොච්චර වෙනවා ඇතිද අද කාලයේ. ඊටපස්සේ බුදුරජාණන් වහන්සේ වදාළා ඔය විදියට මාන්නයෙන් ඇවිල්ලා අන් අය පහත් කල නිසා භූමිපප්පට අතුරුදහන් වුනා, බිම් හතු අතුරුදහන් වුනා. බිම්හතු අතුරුදහන් වුනාට පස්සෙ බදාලතා කියලා වැල් වර්ගයක් පහල වුනා. විල් පලා යම් සේද බදාලතා ඒ වගේ. ඉතා පැහැයෙන්, සුවඳින්, රසයෙන්, අර රසවත් ගිතෙල් වෙඬරු වගේ. රසයත් දඬුවැල් මීවගේ. අර පොළොවේ තිබ්බ අර රසම අර වැළටත් ආවා. ඒ බදාලතා වැල් කමින් බොහෝ කාලයක් හිටියා. බොහෝ කාලයක් අනුභව කරමින් හිටියා. ඒවත් අනුභව කරන්න කරන්න අර අයගේ ශරීර තව තව ගොරෝසු වෙන්න ගත්තා. ගොරෝසු වෙනකොට තව තව ලස්සන කැත ප්‍රකට වෙන්න ගත්තා. එතකොටත් අපි මොවුන් අතරින් පැහැපත්, මොවුන් විරූපියි කියලා ලස්සන මුල් කරගෙන උස් පහත්කම් මාන්නය හදාගත්තා. ඒ මාන්නය හිතට එනකොට මොකද වුනේ, බදාලතා අතුරුදහන් වුනා. ඊටපස්සෙ එයාලා එකතු වුනා. ඒකාන්තයෙන් අපිට බදාලතා තිබ්බා, ඒවා දැන් අපිට නැතිවුනා කියලා ශෝක කලා. මෙකල්හි මිනිස්සු යම්කිසි දුක් සහගත කරුණකින් පහස ලද විට ඒකාන්තයෙන් අපිට තිබුණේ යැයි ඒකාන්තයෙන් අපිට නැතිවූයේ යැයි මෙසේ කියති. ඒ පැරණි වූ යළි ලෝකය සකස්වීමේ මුල් අවධිය පිළිබඳව නොගෙවුනු මතකය සිහි කරත්. එහෙත් එහි තේරුම නොදනී, අද කාලෙත් ශෝක කරනකොට අපි මෙහෙම හිටපු කට්ටිය ද, අපිට කලින් කොච්චර දේවල් තිබ්බද දැන් හැමදෙයක්ම නැතිවුනා කියලා මිනිස්සු කියන් නැද්ද. බුදුරජාණන් වහන්සේ වදාළා ඒ වචනය මිනිස්සුන්ගේ හිත් වලට එන්නේ අර ලෝකය හැදෙනකොට මුල් තිබ්බ අමතක වූ අතීතයක් ඒ එන්නෙ. මිනිස්සු දන් නෑ ඒක. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා වාසෙට්ඨ, සත්ත්වයන් බදාලතා අතුරුදහන් වූ කල්හි සකස් නොකළ පොළොවෙහි කුඩු නැති දහයියා නැති පිරිසිදු සුවඳවත් සහල්ම ඵලය කොටගත්

පැසී ගිය ඇල් කරල් පහළ වුනා. කියන්නෙ ඇල් හාල්, පොතු නෑ. ඊටපස්සෙ මෙන්න මේවා උදේ හවස අරගෙන දැන් එකක් ඉවරවෙනකොට මොකක්හරි දෙයක් පහළ වෙනවා. එතකොට ඒ ඇල් හාල්, පොතු නැති, සුඹුලු නැති, ඒ ඇල් හාල් පහළ වුනා. ඒවා උදෑසන පැසුනු සහල් නැවත පැළවී තිබේ. ඒ කියන්නෙ උදෑසන ඇල් හාල් ගත්තොත් හැන්දෑවෙනකොට ආයෙ එතන ඒක තියෙනවා. හැන්දෑවට ගත්තොත් උදේ වෙනකොට තියෙනවා. ඒවා වළඳනවා. උයන්න පිහන්න ඕන නෑ, එහෙම්මම තැම්බිලාම තියෙන්නෙ. අරන් එලය වළඳන්න තියෙන්නෙ. මෙහෙමත් ආහාර ගන්නකොට ගන්නකොට ඔන්න ශරීරය තව තව ගොරෝසු වුනා. ශරීරය තව තව ගොරෝසු වෙනකොට මෙයාලගේ ලස්සන කැත තව තව ප්‍රකට වෙන්න ගත්තා. එතකොටත් මොකද වුනේ ලස්සන කැත ප්‍රකට වෙන්න ගත්තට පස්සෙ, ඒ විතරක් නෙවෙයි අර ඇල් හාල්, මෙතෙක් වෙනකල් හාල් වර්ග නෑනෙ. ඇල් හාල් ශරීරයට ගන්න ගන්න අනුභව කරන්න කරන්න ස්ත්‍රීන්ට කලින් සසරේ ස්ත්‍රීන් වෙලා හිටපු අයට ස්ත්‍රී ලිංගය පහළ වුනා. කලින් පුරුෂයන් වෙලා හිටපු අයට පුරුෂ ලිංගය පහළ වුනා. එතෙක් ස්ත්‍රී පුරුෂයන් වෙනම හදුනගන්න බෑ, ආහාර ගන්න ගත්තට පස්සෙ තමයි, ඒ කියන්නෙ ඇල් හාල් ගත්තට පස්සෙ තමයි ස්ත්‍රී පුරුෂ බව ප්‍රකට වුනේ. ඊටපස්සෙ ස්ත්‍රී ලිංග පුරුෂ ලිංග පහළ වුනාට පස්සෙ ස්ත්‍රීන් ගොඩාක් වෙලා පුරුෂයන් දෙස වැඩිපුර බල බලා හිටියා. පුරුෂයන්ද ගොඩාක් වෙලා ස්ත්‍රීන් දෙස බල බලා හිටියා. එහෙම බල බලා ඉන්නකොට මොකද වුනේ, ඒ අයගේ හිත් තුළට රාගය ඇතිවුනා. ඇඟේ දාහයක් ඇතිවුනා. රාගයයි ඇඟ රස්නෙ වෙන ගතිය ආවා. ඒ දාහය බැසගෙන, ඔහු ඒ රාග දාහය හේතුවෙන් අඹුසැමියන් සේ හැසිරුණා. වාසෙට්ඨ ඒ සමයෙහි යම් ඒ සත්ත්වයෝ අඹුසැමියන් සේ හැසිරෙන සත්ත්වයන් දකිත්ද, දැන් එතකොට ලෝකෙ අනිත් අය දැකපු නැති දෙයක්, හිතපු නැති දෙයක්. එතකොට එක්කෙනෙක් දෙන්නෙක් මෙහෙම කරනකොට අනිත් අය මොකද කලේ පොළොවෙන් පස් අරන් ගැහුවා, තව කෙනෙක් අලුවලින් ගැහුවා, කුඩු වර්ග වලින්. ඒ වගේම තව කෙනෙක් ගොම වලින් ගැහුවා. නැසීයා වසලිය, නැසීයා වසලිය කෙසේ නම් සත්ත්වයෙක් සත්ත්වයෙකු හට මෙබඳු දෙයක් කරයිද. එහෙම කියලා පස් වලින් ගහලා පන්නනවා කියනවා. මෙකල්හි පවා ඇතැම් ජනපද වල මිනිස්සු බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, ස්ත්‍රියක ගෙන යනු ලබන කල්හි අන් කෙනෙක් පස් දමා ගසති, තව කෙනෙක් අලු දමා ගසති, තව කෙනෙක් ගොම දමා ගසති. ඒ පැරණි වූ යළි ලෝකය සකස් වීමේ මුල් අවධිය පිළිබඳව

නොගෙවුනු මතකය සිහිකරත්. එහෙත් එහි තේරුම නොදනිති. අදටත් ඒවා දානවා. පස්, අලු. සමහර විට මේවා වෙන්න පස්සෙ කාලෙක ඇවිල්ලා බෑලුම් බෝල වලට ඇවිල්ලා බැලුම් බෝල පුපුරලා ඇඟට වැටෙන්නෙ, ඉතින් ඒ වාගේ තිබිලා තියෙනවා කියනවා. පැරණි දේවල් එනවා කියනවා. එතකොට මුල්ම කාලෙ පන්නලා තියෙනවා. මේවා කොහොමද මනුස්සයෙක් තවත් මනුස්සයෙකුට මෙහෙම දෙයක් කරන්නෙ කියලා. මනුස්ස කතා නෑ සත්ත්වයක් තවත් සත්ත්වයෙකුට කොහොමද මෙහෙම කරන්නෙ. වාසෙට්ඨ එසමයෙහි යමක් අධර්මය යැයි සම්මත වූයේද, එය මෙකල්හි ධර්මය යැයි සම්මතයි. ඒ කාලයේ අධර්මයක් කියලා මනුස්සයෙක් මනුස්සයෙකුට කොහොමද මෙහෙම කරන්නේ යැයි කියලා අධර්මයක් කියලා හිතපු දේ අද කාලෙ හැමතැනම සිද්ධවෙනවා. වාසෙට්ඨ එසමයෙහි ඒ සත්ත්වයෝ අඹුසැමියන් ලෙස හැසිරෙත් ද, ඔවුහු මසක් හෝ දෙමසක් හෝ ගමකට හෝ නියම් ගමකට හෝ පිවිසෙන්න අවසර නොලබති. පැන්නුවොත් එහෙම ඒ වාගේ දෙයක් දැකලා මිනිස්සු අනිත් සත්ත්වයෝ පැන්නුවොත් ඒ අය ඈතට ඈතට ගිහිල්ලා ඉන්නවා, මිනිස්සු අතරට මාස දෙක තුනක් එන් නෑ කියනවා. භය වෙලා, ඇයි පන්නනවා. යම් කලෙක වාසෙට්ඨ, ඒ සත්ත්වයෝ එසමයෙහි අධික වේලාවක් අසද්ධර්මයේ යෙදී සිටින බවට පැමිණියාහුද, එකල්හි අසද්ධර්ම කටයුත්ත අන්‍යයන්ගෙන් වසාලීම පිණිසම ගෙවල් තනන්න උත්සාහවත් වූහ. නමුත් ඒ අයට ඒ අවශ්‍යතාවය ඇතිවුනාම ඒක කරන්න එයාලා මොකද කලේ ගෙයක් හැදුවා. එහෙනම් මේ ලෝකෙ ඉස්සෙල්ලාම ගෙයක් හැදුවෙ ඔන්න ඔය කටයුත්තට කියනවා. ඊටපස්සෙ වාසෙට්ඨ, එක්තරා කම්මැලි ගති ඇති සත්ත්වයෙකුට මේ අදහස ඇතිවුනා. භවත්නි, සවසට ආහාර පිණිස සවසත්, උදේට ආහාර පිණිස උදෑසනත් හැල් ගෙන ඒමට මම කුමට නම් මහන්සි වෙන්නද. ඒ නිසා මම සවසටත් උදේටත් දෙපාරටම එකපාර හැල් කපාගෙන යනවා කියලා ඒ මනුස්සයෙකුට කම්මැලි කමක් ඇවිල්ලා දෙපාරටම එකපාර ගෙනාවා. ඉක්බිති වාසෙට්ඨ, දැන් උදේ ගෙනාවා කියන්නකො. එතකොට හවසට අනිත් අය යනවනෙ හැල් වී ගේන්න. ඒ අය අරයට කතා කලා, භවත යං කියලා. ඊටපස්සෙ කිව්වා නෑ මං යන්නෑ, වැඩක් නෑ දැන් ගිහිල්ලා. ඇයි කියලා ඇහුවා, මං ගෙනාවා. එතකොට මෙයා කල්පනා කලා හප්පේ මේක නියම වැඩක්නෙ කියලා එයා දවස් දෙකකට අරන් ආවා. ඊටපස්සෙ එයාට පහුවදා තව කෙනෙක් කතා කලා. ඊටපස්සෙ එයා කිව්වා මං යන්නෑ, ඇයි කියලා ඇහුවා. මං දවස් දෙකකට අරන් ආවා, අප්පේ ඒක හොඳ

වැඩක්නෙ කියලා එයා දවස් හතරකට අරන් ආවා. ඊටපස්සෙ ඔන්න එයාට තව කෙනෙක් කතා කලා, කිව්වා මං යන්නෑ, ඇයි කියලා ඇහුවා. මං දවස් හතරකට හැල් අරන් ආවා කිව්වා. එයා කල්පනා කලා අප්පේ නියම වැඩේනෙ කියලා දවස් අටකට අරන් ආවා. පුදුම දේවල්. අද කාලෙත් එහෙම තියෙනවානෙ. මේ මනුස්ස වර්ගයා මේ ලෝකෙ පහළ වුනේ යම් දවසකද, එදා ඉඳලම මේවා එනවා තව එක්කෙනෙක් කරන එක අනිත් එක්කෙනා කරනවා. ඊටපස්සෙ යම්කලෙක වාසෙට්ඨ, ඒ සත්ත්වයෝ හැල් එක්රැස් කොට තබාගෙන අනුභව කරන්නට උත්සාහවත් වූවාහුද, එකල්හි කුඩුත් සහල් වසා ගත්තේය. දහයියාත් සහල වසාගත්තේය. හැල් කපාගත් තැන යළි නොවැඩුනේය. හැල් නැති තැන අඩුව පෙනුනේය. හැල් පඳුරු පඳුරු සිටියේය. එකල්හි වාසෙට්ඨ, ඔන්න දැන් වෙච්චි වැඩේ. දැන් වීපොතු හැදුනා. වාසෙට්ඨ ඒ සත්ත්වයෝ රැස් වුනා, රැස් වෙලා ශෝක කලා. භවත්නි ඒකාන්තයෙන්ම සත්ත්වයන් අතර ලාමක ගතිගුණ පහළ වුනා. පූරුවේ අපි සිතින් සකස් වූ ප්‍රීතිය අනුභව කරමින් සිරුරු වලින් එළිය විහිදෙමින් අහසේ හිටපු දීර්ඝායුෂ තියෙන පිරිසක් අපි. අපි කාලයක් ඒ කාලයක අපි මේ පොළොවේ පෘථිවි රසය ඇඟිල්ලෙන් ලෙවකෑවා. ඊටපස්සෙ ගුලි කරලා කෑවා. රස අතුරුදහන් වුනා. භූමිපප්පට කෑවා, ඒවා අතුරුදහන් වුනා. ඊටපස්සෙ බදාලතා කෑවා, ඒවා අතුරුදහන් වුනා. ඊටපස්සෙ හැල් වී වලත් සුඹුල නැතිවෙලා ගියා. මේ ඔක්කෝම වුනේ අපි අතර නුගුණ පහළ වුන නිසා. අකුසලය පහළ වෙච්චි නිසා. අධර්මය පහළ වෙච්චි නිසා. ඉතින් ඒ නිසා මේක අපි අතින් වෙච්චිම වැරැද්දක්. ඒ නිසා මේ අය කතා කලා කියනවා, හරි අපිත් දැන් මේ හැල් වී ඒ ඒ භූමි බෙදාගමු. අහවල් කොටස ඔයාට, අහවල් තැන හැදිලා තියෙන හැල් වී ඔයාට කියලා භූමි කොටස බෙදාගමු කිව්වා. ඔන්න බෙදාගත්තා. දැන් ඔන්න භූමිය බෙදාගත්තා. බෙදාගත්තට පස්සෙ සීමා තැබුවට පස්සෙ වාසෙට්ඨ, එක්තරා ලොල් ගති ඇති සත්ත්වයෙක් තමන්ගේ කොටස රකිමින්, ඒ කියන්නෙ ලොල් ගති ඇති එක්කෙනෙක්, කවුද දන්නෑ, එයා තමන්ගේ කොටස තියෙද්දින් අනිත් එක්කෙනාගේ හැල් වී එකට ගිහිල්ලා එහෙන් හැල් වී කරල් කපාගෙන ආවා. ඊටපස්සෙ මේක අහුවුනා. අනිත් අය කිව්වා, භවත, අප්පේ එහෙම කරන්න එපා. පව්වුයිනෙ, අධර්මයිනෙ, අනුන්ගේ දෙයක් කොහොමද ඒ කෙනාට කියන්නැතිව නුදුන් දෙයක් අරගෙන අනුභව කරන්නෙ. සත්ත්වය, නැවත මේ වගේ දෙයක් කරන්න එපා. කියලා අවවාද කලා. එසේය භවත කියලා එයා ඔළුව පාත් කරලා ගියා. මේන් දෙවෙනි දවසෙත් මේකා පැන්නා. දෙවෙනි දවසෙත් ඇල්ලුවා, කිව්වා මෙහෙම කරන්න එපා,

හොඳ නෑ. තුන්වෙනි දවසෙත් පැන්නා, තුන්වෙනි දවසෙ කිව්වා මේක කරන්න එපා කියලා කලින් කිව්වා, ඒ නිසා උඹ මේක කලා, මේක කරන්න හොඳ නෑ කියලා ළඟ හිටපු කෙනෙක් අත මිට මොළවලා මූණට දුන්නා, හොම්බට ගැහුවා. ඊටපස්සෙ තව එක්කෙනෙක් ගලක් අරගෙන ගැහුවා. තව එක්කෙනෙක් දණ්ඩක් අරගෙන ගැහුවා. වාසෙට්ඨ, එතැන් පටන් සොරකම කියන එක පැනවුනා. ගැරහීම, බොරු කීම, දඬුමුගුරු ගැනීම පැණුනා. කොහොමද. එකල්හි වාසෙට්ඨ ඒ සත්ත්වයෝ එක්රැස් වුනා. එක්රැස් වෙලා ශෝකී වචන කිව්වා. භවත්නි යම් තැනක සොරකම දකින්න ලැබෙයිද, ගැරහීම දකින්න ලැබෙයි ද, බොරුව දකින්න ලැබෙයිද, දඬුමුගුරු දකින්න ලැබෙයි ද, ඒකාන්තයෙන් සත්ත්වයන් කෙරෙන් පවිටු ගතිගුණ පහළ වෙලා. එහෙයින් භවත්නි යමෙක් අප අතර දොස් නැගිය යුත්තෙකු සිටිත් නම් ඔහුට මැනැවින් දොස් නගයි ද, ගරහන්න ඕන කෙනාට ගරහනවාද, නෙරපන්න ඕන කෙනාව නෙරපනවාද, දඬුවම් කරන්න ඕන කෙනාට දඬුවම් කරනවාද, අපි අතරම ඒ වගේ එක්කෙනෙක් පනවගමු. මේක ඔක්කෝම මේවා කරන්න යන්න ඕන නෑ. අපි එක්කෙනෙකුට පවරමු මේවා තීන්දු කරන්න. ගරහන එක්කෙනාට ගරහන්න, බනින එක්කෙනාට බනින්න, දඬුවම් කරන එක්කෙනාට දඬුවම් කරන්න, එක්කෙනෙක් අපි ඔක්කොම එකතු කරගෙන සම්මත කරගමු. ඉක්බිති වාසෙට්ඨ, ඒ සත්ත්වයෝ ඔවුන් අතර සත්ත්වයෙක් වඩාත් රූප සම්පන්න වුනාද, වඩාත් දැකුම්කළු වුනාද, වඩාත් දුටුවන් පහදින සුලු වුනාද, වඩාත් මහේශාක්‍ය වුනාද, ඒ කෙනා ළඟට ගියා. ඒ කෙනා ළඟට ගිහිල්ලා කිව්වා අපි අතරෙ ඉන්නවා දොස් කිය යුතු අය. ඊටපස්සෙ ඒ අයට ඔබ දොස් කියන්න ඕන. ගැරහිය යුතු අයට ගරහන්න ඕන. නෙරපන්න ඕන අයට නෙරපන්න ඕන. ඔබ ඒ කටයුත්ත කරන්න. ඔබට ආහාර පිණිස අපේ කෙත් වලින් හැල් වී අපේ ධනය ඔබට වෙනම ගෙනත් දෙනවා කියලා මෙයා මොකද කලේ කෙනෙක් පත්කරගත්තා. වාසෙට්ඨ මහජනයා විසින් සම්මත කරගන්නා ලද්දේය යනුවෙන් මහා සම්මත, මහා සම්මත කියලා වචනයක් ඒ කෙනාට යෙදුනා. වාසෙට්ඨ කුඹුරු වලට අධිපති - හැම කුඹුරකින්ම එයාට එනවානෙ ආදායම. කුඹුරු වලට අධිපති කියන අදහසින් කත්තිය, කත්තිය, නැත්නම් ක්ෂත්‍රිය ක්ෂත්‍රිය කියන නම යෙදුනා එයාට. වාසෙට්ඨ ඔය නම යෙදුනෙ, මහා සම්මත කියන නම ක්ෂත්‍රිය කියන වංශය යෙදුනේ ධර්මයෙන්. ධර්මයෙන් ජනයා සුවපත් කරවනවා. ඔහු හරියට ධර්මානුකූලව තමයි මිනිස්සුන්ට පහසුව හදන්නෙ. ධර්මයෙන් මනුස්සයා ප්‍රීතිමත් කරවනවා කියන

අදහසින් රඤ්ඤො රඤ්ඤො, රජා රජා කියන රජ කියන නම ඉපදුනා කියනවා. මහා සම්මත, ක්ෂත්‍රිය, රාජ කියන ව්‍යවහාරය ලෝකෙට ආවෙ ඕකෙන් කියනවා. මේ තමයි මහා සම්මත රජ්ජුරුවො. ඇත්තටම ඒකාලෙ මහාසම්මත රජ වෙලා ඉපදිලා තියෙන්නෙ අපේ මහා බෝධිසත්ත්වයෝ. මෙසේ වාසෙට්ඨ මේ ක්ෂත්‍රිය මණ්ඩලය පටන් ගැන්ම පැරණි වූ මුල් වූ අව්ධිය වූ වචන ව්‍යවහාරයෙන් වූයේය. එයත් මේ සත්ත්වයන් අතරමය. අන් සත්ත්වයන් අතර නොවේ. සමාන සත්ත්වයන් අතරමය. අසමාන සත්ත්වයන් අතර නොවේ. ධර්මයෙන්මය, අධර්මයෙන් නොවේ. වාසෙට්ඨ මෙලොවෙත් පරලොවෙත් ජනයා අතර ධර්මයම ශ්‍රේෂ්ට වෙනවා. එහෙනම් ඒ රජවංශය කියන එක ඇතිවුනේ මිනිස්සු අතරමයි. ඔක්කොම එක මිනිස්සු. මිනිස්සුමයි එක්කෙනෙක් පත් කලේ මෙයා රජ කෙනෙක් කියලා. කිසිම වෙනසක් නෑ අනිත් අය අතර. ඊටපස්සෙ එයාගෙන් පැවතගෙන එන අය ක්ෂත්‍රිය කියලා ආවා. මිනිස්සුමයි කෙනෙක් තෝරගත්තෙ. අනිත් මිනිස්සු අතර වෙනස්කම් නෑ. එයාට අර පැනෙව්වා, එයාගේ කෘත්‍යය අනුව එයාගේ ධර්මානුකූල බව අනුව, ධර්මයෙන් පනවපු නමක් තිබ්බා, ක්ෂත්‍රිය කියන එක. මෙලොවත් පරලොවත් ශ්‍රේෂ්ට වෙන්නේ ධර්මයයි. එකල්හි වාසෙට්ඨ, ඒ සත්ත්වයන් අතරම ඇතැම් සත්ත්වයන්ට මේ අදහස ඇතිවුනා. ඒ තමයි යම් තැනක සොරකම දකින්න ලැබෙන්නේද ගැරහීම දකින්න ලැබෙන්නේ ද, දඬුමුගුරු දකින්න ලබෙන්නේද, නෙරපීම දකින්න ලැබෙන්නේ ද, බොරුකියන්නේද ඒකාන්තයෙන් සත්ත්වයන් තුළ පව්ටු ගතිගුණ තියෙන නිසා. ඒ නිසා අපි පව්ටු අකුසල් දහම් බැහැර ලන්නෙමු කියලා ඒ අය අකුසල් බැහැර කලා. වාසෙට්ඨ අකුසල් දහම් බැහැර කලා කියන අදහසින් බ්‍රාහ්මණ බ්‍රාහ්මණ කියන වචනය යෙදුනා. අර මිනිස්සු අතරම අය අකුසල් බැහැර කරන පිරිසක් හැදුනා. ඒ අයට අකුසල් බැහැර කරනවා, බාහිත පාපො, පාපය බැහැර කරනවා කියන අදහසින් බ්‍රාහ්මණ කියන වචනෙ යෙදුනා. දැක්කද බ්‍රාහ්මණ වංශය හැදුනු හැටි. ඔවුහු වනාන්තර වල පන්සල් කුටි තනාගෙන පන්සල් කුටි වල ධ්‍යාන කරති. තමා ආහාර අනුභවය අත්හැරලා අඟුරු කෑම උයන පිහින දේවල් අත්හැරලා, ගම්වලට ගිහිල්ලා පිණ්ඩපාතෙ කරගෙන යැපෙනවා. මිනිස්සු කල්පනා කලා මේ අය ගෙවල් දොරවල් අත්හැරලා ධ්‍යාන කර කර ඉන්නවා. ඒ නිසා මේ ඇත්තො මිනිස්සුන්ගේ පිණ්ඩපාතයෙන් තමයි ජීවත් වෙන්නෙ. ඒ නිසා මෙයාලා ධ්‍යාන කරනවා. ධ්‍යායිකො ධ්‍යායිකො ධ්‍යාන කරන අය, ධ්‍යාන කරන අය කියලා ඒ අයට නමක් වැටුනා. වාසෙට්ඨ ඒ ධ්‍යාන කරන සත්ත්වයින් අතරම හිටි සමහර

අයට ඒ පන්සල් වල ඒවගේ ඉන්න බෑ. එයාලා එළියට ඇවිල්ලා එක එක ධර්ම කොටස් සජ්ඣායනා කරන ඒවා ලියන කියන ඒවා පටන් ගත්තා. අන්න ඒ අයට නමක් හැදුනා, අජ්ඣායකො, ධ්‍යාන නොකරන්නො, ධ්‍යාන නොකරන්නො කියලා. ග්‍රන්ථ කතුවරු කියලා වගේ. ඊටපස්සෙ වාසෙට්ඨ, ඒ අය ඒ කාලෙම හීන යැයි සම්මත වූ මෙකල්හි ශ්‍රේෂ්ට යැයි සම්මත - කියනවා ඒ කාලෙ යමක් හීන යැයි සම්මත වුනා නම් මේ කාලෙ ඒක ශ්‍රේෂ්ට වෙලා. මෙසේ වාසෙට්ඨ ඒ බ්‍රාහ්මණ මණ්ඩලයේ පටන් ගැනීම පැරණි වූ මුල් අවධියේ වූ වචන ව්‍යවහාරයෙන් වූයේය. වාසෙට්ඨයෙනි, එසමයෙහි යමක් හීන යැයි සම්මත වූයේද, මෙකල්හි එය ශ්‍රේෂ්ට යැයි සම්මත වෙලා. ඒ තමයි බාහිත පාපණ, පාපය බැහැර කරන අර්ථයෙන් ධ්‍යාන කරන අර්ථයෙන්නෙ බ්‍රාහ්මණයො ධ්‍යාන කරනවා කියලා අර්ථය ආවෙ. ඒත් බමුණුකම කරගන්න බැරිව, ධ්‍යාන කමක් කරගන්න බැරිව, මන්ත්‍ර සජ්ඣායනා කරමින් ග්‍රන්ථ කරන එක ආවෙ ඒවා බෑ කියලා එළියට ආපු අයනෙ. ඒ කියන්නෙ අර අයගෙන් ෆේල් වුන අයනෙ. එතකොට අද කාලෙ බමුණො ශ්‍රේෂ්ටයි කියන්නෙ මන්ත්‍ර දන්නවා නම්, පොත් ලියනවා නම් ශ්‍රේෂ්ටයි. බලන්න කිව්වා ඒ කාලෙ හීණයි කියලා බැහැර කරපු එක අද නිකම්ම ශ්‍රේෂ්ට වෙලා කිව්වා. ඉතින් ඔන්න ඔහොමයි කියනවා බමුණන්ගේ වාසය ආවෙ. එයත් සත්ත්වයන් අතරමයි, මේ මිනිස්සු අතරම වෙච්චි එකක් ඕක. වෙන අය අතර නෙවෙයි. සමාන සත්ත්වයෝ අතරම වෙච්චි දෙයක්, අසමාන අය අතර නෙවෙයි. ධර්මයෙන්ම වෙච්චි දෙයක්, අධර්මයෙන් නෙවෙයි. වාසෙට්ඨ, මෙලොවත් පරලොවත් ශ්‍රේෂ්ට වෙන්නෙ ධර්මය. වාසෙට්ඨ ඒ සත්ත්වයන් අතරම ඇතැම් සත්ත්වයො අඹුසැමියන් ලෙස ජීවත් වී ප්‍රකටව දකින්න ලැබෙන ක්‍රියාවන්හි නියැළුනා. ඒ අය මුළු ජීවිතේම අඹුසැමියන් විදියට පවුල් පන්සල් වෙලා මොනවාහරි ජීවත් වෙන්න රැකියාවල්, ජීවත් වෙන්න ක්‍රමෝපායන් හදාගෙන ජීවත් වුනා. ඒ අයට අන් අය නමක් දැම්මා, වෛශ්‍යයෝ කියලා. අඹුසැමියන් සමඟම ජීවිතේ ගත කරන අය කියන අදහසින්. දැන් ක්ෂත්‍රිය, බ්‍රාහ්මණ, වෛශ්‍ය ඊටපස්සෙ මෙසේ වාසෙට්ඨ, ඔය විදියට තමයි කියනවා වෛශ්‍ය මණ්ඩලයේ පටන් ගැනීම සිද්ධ වුනේ. ව්‍යවහාරය ආවෙ. ඒවත් සත්ත්වයෝ අතරමනෙ. මිනිස්සු අතරමනෙ, වෙනස් අය අතර නෙවෙයි. ධර්මයෙන්මයි, අධර්මයෙන් නෙවෙයි. වාසෙට්ඨ, මෙලොවත් පරලොවත් ශ්‍රේෂ්ට වෙන්නේ ධර්මයමයි. වාසෙට්ඨ, ඒ සත්ත්වයන් අතරම ඉතිරි සත්ත්වයන් ඉන්නවානෙ, ඒ කියන්නෙ අර පාලන තන්ත්‍රයටත් සම්බන්ධ නෑ, භාහිතපාපොත් නෑ ධ්‍යාන කරන්නෙත් නෑ, ග්‍රන්ථ කරන්නෙත් නෑ, අඹුසැමියන්

විදියට තම තමන්ගේ ජීවනෝපාය හොඳට හදාගෙන ඉන්න අයත් නෙවෙයි. තව කට්ටියක හිටියා ඒ අය රෞද්‍රයි, පටු ගතිගුණ තියෙනවා. පහත් ගති තියෙන කොටසක් ඒ කාලෙ හිටියා. ඒ අයට නිකම්ම නමක් වැටුනා ශුද්‍ර කියලා. මේ බලන්න කිව්වා ශුද්‍ර මණ්ඩලයේ ආරම්භය. එයත් වුනේ ව්‍යවහාරයෙන්මයි කියනවා. මිනිස්සු අතරමයි කියනවා වුනේ ඕක. ඉතින් ඒ නිසා අසමාන සත්ත්වයන් නෙවෙයි කියනවා, අසමාන අය අතර නෙවෙයි, සමාන මිනිස්සු අතරමයි වුනේ, මෙලොවත් පරලොවත් වාසෙට්ඨ තේරුම් ගන්න, ධර්මයමයි ශ්‍රේෂ්ට. වාසෙට්ඨ, ක්ෂත්‍රියයා ක්ෂත්‍රිය ධර්මයට ගරහමින් ගිහිගෙයින් අනගාරිකව පැවිදි වුනා, ශ්‍රමණයෙක් වෙනවා කියලා. බමුණොත් ඒ බමුණු ජීවිතයට ගරහලා ඒ පැවිදි වුනා, ශ්‍රමණයෙක් වෙනවා කියලා. වෛශ්‍යයොත්, වෙළෙඳ කුලයේ අයත් ඒ ධර්මයන්ට ගරහලා මං පැවිදි වෙනවා කියන අදහසින් පැවිදි වුනා. ශුද්‍ර කුලයේ අයත් පැවිදි වුනා, ඒ අයට ශ්‍රමණයෝ කියලා කිව්වා. කුල හතරෙන්ම ඒ ජීවිතේ අත්හැරලා පැවිදි වුනා. ඔන්න ශ්‍රමණ මණ්ඩලයේ ආරම්භය. මිනිස්සු අතරමයි කිව්වා ශ්‍රමණ කියන අය පහළ වුනේ. ඒ ධර්මයෙන්, අධර්මයෙන් නෙවෙයි. මෙලොවත් පරලොවත් ශ්‍රේෂ්ටයි ධර්මය කියලා කිව්වා. වාසෙට්ඨ රජ කුලයේ කෙනා සිතෙන් කයෙන් වචනයෙන් දුෂ්චරිතයේ යෙදෙනවා නම් නිරයේ උපදිනවා. බමුණු කුලයේ කෙනා සිතින් කයෙන් වචනයෙන් පව් කලොත් නිරයේ උපදිනවා. වෙළෙඳ කුලයේ කෙනා සිතින් කයෙන්වචනයෙන් පව් කලොත් නිරයේ උපදිනවා. ශුද්‍රයා සිතින් කයෙන් වචනයෙන් පව් කලොත් නිරයේ උපදිනවා. වාසෙට්ඨ රජ කුලයේ කෙනා සිතින් කයෙන් වචනයෙන් යහපතේ යෙදුනොත් සුගතියෙ උපදිනවා. බමුණු කුලයේ කෙනා සිතින් කයෙන් වචනයෙන් යහපතේ යෙදුනොත් සුගතියේ උපදිනවා. වෙළෙඳ කුලයේ කෙනා සිතින් කයෙන් වචනයෙන් යහපතේ යෙදුනොත් සුගතියේ උපදිනවා. ශුද්‍ර කුලයේ එක්කෙනා සිතින් කයෙන් වචනයෙන් යහපතේ යෙදුනොත් සුගතියේ උපදිනවා. වාසෙට්ඨ, ක්ෂත්‍රියන් කයෙන් හොඳ නරක දෙකම කරන්නෙ. වචනයෙන් හොඳ නරක දෙකම කරන්නෙ. සිතින් හොඳ නරක දෙකම කරන්නෙ. හොඳ නරක මිශ්‍ර වූ දෘෂ්ටියෙන් යුතුව, හොඳ නරක මිශ්‍ර වූ දෘෂ්ටියෙන් ගත් ක්‍රියාව සමාදන් වී සිට හොඳ නරක මිශ්‍ර වූ දෘෂ්ටියෙන් ගත් ක්‍රියාව සමාදන් වීම හේතුවෙන් කය බිඳී මරණින් මත්තේ සැපදුක් විඳින්නේ වේ. හොඳ නරක දෙකම කරලා මරණින් මත්තෙ හොඳ නරක දෙකම විපාක විඳිනවා රජ කුලයේ කෙනත්, බමුණු කුලයේ කෙනත්, වෙළෙඳ කුලයේ කෙනෙක්, ශුද්‍රයාත්. ඉතින් වාසෙට්ඨ, සිතින් ක්ෂත්‍රියත්, කයෙන් සංවර

වෙලා, වචනයෙන් සංවර වෙලා, සිතින් සංවර වෙලා කොටස් සතකින් යුක්ත වූ සත්තිස් බෝධිපාක්ෂික ධර්ම කවුරුහරි වැඩුවොත් රජකුලයේ එක්කෙනා එයා පිරිනිවන් පානවා. බමුණු කුලයේ එක්කෙනා සත්තිස් බෝධිපාක්ෂික ධර්ම වැඩුවොත් පිරිනිවන් පානවා. වෙළෙඳ කුලයේ එක්කෙනා සත්තිස් බෝධිපාක්ෂික ධර්ම වැඩුවොත් පිරිනිවන් පානවා. ශුද්‍රයා සත්තිස් බෝධිපාක්ෂික ධර්ම වැඩුවොත් පිරිනිවන් පානවා. වාසෙට්ඨ, මේ වංශ හතරෙන්ම පැමිණි භික්ෂුව රහත් වෙලා නම්, ආශ්‍රව ක්ෂය වෙලා නම්, බඹසර වාසය සම්පූර්ණයි නම්, කළ යුතු දේ කරලා නම්, කෙලෙස් බැහැර කරලා නම්, පිළිවෙලින් නිවනට පත්වෙලා නම්, භවසංයෝජන ක්ෂය කරලා නම්, මැනැවින් කෙලෙස් වලින් නිදහස් වෙලා නම් ඔහු ඒ හැම වංශයක් අතරින්ම ඒ කෙනාම අග්‍රයි. ඒකත් වුනේ වාසෙට්ඨ ධර්මයෙන්නෙ. මෙලොවත් පරලොවත් වාසෙට්ඨ ශ්‍රේෂ්ට වෙන්නෙ ධර්මයෙන්. වාසෙට්ඨ සනංකුමාර බ්‍රහ්මයා විසින් ගාථාවක් වදාළා. කත්තියො සේට්ඨො ජනෙතස්මිං යෙ ගොත්ත පටිසාරිනො මේ ගෝත්‍රය වංශය මුලින්, යම්කිසි කෙනෙක්ගේ ගෝත්‍ර පිළිවෙලින් සිහි කලොත් ජනයා අතර ශ්‍රේෂට වෙන්නෙ ක්ෂත්‍රියා. ඇත්තටම වංශ පරම්පරාව එනකොට ඉස්සෙල්ලාම හැදුනෙ රජකුලයනෙ. දෙව් මිනිසුන් අතර ශ්‍රේෂ්ට වෙන්නේ විජ්ජාචරණයෙන් යුතු සම්මා සම්බුදුරජාණන් වහන්සේ. කිව්වා වාසෙට්ඨ, සනංකුමාර බ්‍රහ්මරාජයා කියපු කතාව ඒකාන්ත සත්‍යයක්. මම සම්බුදුවරයෙක් විදියටත් කියනවා, කුලවංශ හොයාගෙන ගියොත් ශ්‍රේෂ්ට වෙන්නෙ රජකුලය. දෙව් මිනිසුන් අතර විජ්ජාචරණ සම්පන්න වූ බුදුරජාණන් වහන්සේම ශ්‍රේෂ්ටයි කියලා. වාසෙට්ඨ, භාරද්වාජ දෙදෙනා ගොඩාක් ප්‍රීතියට පත්වුනා. මේ ධර්මයම ශ්‍රේෂ්ටයි කියන කරුණ මුල් කරගෙන, එයම මනසිකාර කරලා වාසෙට්ඨ, භාරද්වාජ දෙදෙනා අර්හත්වයට පත්වුනා. මෙලොවත් පරලොවත් ශ්‍රේෂ්ට වෙන්නේ ධර්මයයි. දෙව් මිනිස්සුන් අතර ශ්‍රේෂ්ට වෙන්නේ බුදුරජාණන් වහන්සේයි. දිවිහිමියෙන් නිවන් දකින තුරු බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. දිවිහිමියෙන් නිවන් දකින තුරු ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියල හිතන්න. දිවිහිමියෙන් නිවන් දකින තුරු ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. මෙතරම් වැසී තිබුණු අතීතයක් අපි ඉදිරියට දේශනා කල ඒ භාග්‍යවතුන් වහන්සේ ඒකාන්තයෙන්ම ශ්‍රේෂ්ටයි, ධර්මයම ශ්‍රේෂ්ට කලා. මේ හැමදෙයක්ම අපිට ලැබෙන්නෙ ධර්මයෙන්. ඒ නිසා ඒ උතුම් ධර්මය අත්හරින්න එපා, ධර්මයට ආස කරන්න. ධම්ම කාමො භවං හොති, ධර්මයට ආසා වුනොත් කැමැති වුනොත් දියුණු වෙනවා. ධම්ම දෙස්සි

පරාභවෝ, ධර්මයට කැමැති නැත්නම් පිරිහෙනවා. ඒ නිසා ඒ උතුම් සම්බුදු සරණ අපේ ජීවිතේ සුවපත් කරත්වා.

අද දිනයේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහනට දායකත්වය දැරූ හොංකොං හි සේවයේ නියුතු පින්වත් ශෂිකා මධුවන්ති, සුජීවා මංගලී, තනූජා චන්ද්‍රානි, නිරෝෂිමා පතිරණ සහ යුදහමුදාවේ සේවයේ නියුතු බී.ඩී. අජිත් නන්දසිරි යන පින්වතුන් අද ධර්ම දානය සිද්ධ කළේ. මේ ඇත්තන්ට බොහෝ පින් රැස් වුනා. ඉතින් මේ පින්වතුන් බලාපොරොත්තු වෙන පරිදි සියලු යහපත වේවා. ගෞතම සසුනේ පිහිට ලැබේවා කියලා අපි සෙත් පතනවා. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී සියලු දෙනා ආරක්ෂා කරත්වා. මියපරලොව ගිය සිරිවර්ධන ප්‍රනාන්දු පියාණන්ට මේ පින් අනුමෝදන් වී පරලොව යහපත වේවා. මේ අසිරිමත් භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රී සද්ධර්මය සරල සිංහලයට පරිවර්තනය කරලා අපිට ඉගෙනගන්නට අපිට අහන්නට හිත පහදවගන්න සැලැස්වූවේ අපේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂම සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර මහා සංඝරත්නයට, අනගාරිකා මෑණිවරුන්ට මේ පින් බලයෙන් පැවිදි අපේක්ෂක දරුවන්ට ගෞතම සසුනේ ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම සුජීවත්ව සිටින බී.ඩී. නන්දසේන, පී.ඒ.ජී. අනුලාවතී, පී.එල්. නිමල්, කේ. මාලනී, සුජාතා, විපුල යන පින්වතුන්ට දෙමව්පියන්ට උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ වීම පිණිස මේ පින් හේතු උපකාරී වේවා. ඒ දායකත්වය දැරූ පින්වතුන්ටත් ඒ වගේම අපේ මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදී සියලු දෙනාටත්, ඔබ අප කාටත්, ශ්‍රද්ධා රූපවාහිනියෙන්, ලක්විරු ගුවන් විදුලියෙන් ධර්මය ශ්‍රවණය කරන සියලු දෙනාටත් අසිරිමත් සම්බුදු සරණින් සැනසීමට ඒ වගේම මෙලොවත් පරලොවත් ශ්‍රේෂ්ට වන උතුම් ඒ ධර්මයේ පිහිට පිළිසරණ ලබන්න අපි කාටත් වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=MU_228CF6GA&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=87

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදු සාදු සාදු!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන ඔබ දැන් ශ්‍රවණය කරන්නෙ. අපි සරණ ගිය අපගේ බුදුරජාණන් වහන්සේගේ ආනුභාව සම්පන්න ජීවිතය, ශ්‍රී සද්ධර්මයේ තියෙන ආශ්චර්‍යය, ඒ වගේම ආර්ය මහා සංඝරත්නයේ තියෙන ගුණානුභාවය මේ ධර්මදේශනා තුළින් ඔබට අහන්න, දකින්න, සිත පහදවගන්න ලැබෙනවා. ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සඳහා ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් දුෂානි ලියනආරච්චි දියණිය දායකත්වය දරන්නෙ. ඒ පවුලේ පින්වතුන්ගේ සැප්තැම්බර් මස 4 වන දින, 13 වන දින, 16 වන දින කියන ඒ දිනයන් වල යෙදෙන උපන්දින මුල් කරගෙන තමයි අද ධර්ම දානය සිද්ධ කරන්නෙ. අද විශේෂ කාරණාවක් ධර්ම දේශනාවට මාතෘකා වෙන්නෙ. ඉතින් ඉතාමත් සුන්දර දහම් පණිවිඩයක් ලෝකයට ශ්‍රවණය කරන්න ධර්ම දානයේ පින ඔබට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා. පින්වතුනි අපි මීට කලින් කතා කලා ලෝකය හැදෙන හැටි, අග්ගඤ්ඤ සූත්‍රය. මේකත් එක්කම මට කල්පනා වුනා, දැන් ලෝකය හැදුනා, හැදුනට පස්සෙ කොහොමෙයි ලෝකය තිබුනේ, ආන්න ඒ කාරණාව අද ධර්ම දේශනාවට මාතෘකා කරගන්න ඕනෑ කියලා. එතකොට අද දක්වා ලෝකය පැවතුනු විදිය, ලෝකයේ වෙනස්කම් වුනු විදිය පිළිබඳව යම් කාරණාවක් අද දවසේ කතා කරනවා. පින්වතුනි, අද අපි දේශනාවට මාතෘකා කරගන්නෙ චක්කවත්තී සූත්‍රය නැත්නම් චක්කවත්තී සිහනාද සූත්‍රය. මේ සූත්‍ර දේශනාවෙ තමයි තියෙන්නෙ දැන් ඔබ මීට කලින් අහලා තියෙනවානෙ මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු අසූදාහට තිබ්බාය, මේ වාගේ දීර්ඝායුෂ අද කාලෙ වෙනකොට අවුරුදු පනහට හැටට අඩු වුනේ කොහොමද කියන එක මේ දේශනාවෙ තියෙනවා. මේ දේශනාවෙම තියෙනවා ඔබ අහලා ඇතිනෙ මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු දහයට අඩුවෙනවා කියලා. ඒ අවුරුදු දහයට කොහොමද අඩු වෙන්නේ කියලා. මේ දේශනාවෙම තියෙනවා ඔබ අහලා තියෙනවානෙ අනාගතේ මෛත්‍රී තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ පහළ වෙනවා කියලා. මෛත්‍රී බුදුරජාණන් වහන්සේ

ගැන විස්තර තියෙන එකම එක සූත්‍ර දේශනාව තමයි චක්කවත්තී සීහනාද සූත්‍රය. ඉතින් මේ දේශනාවේ ආයුෂ අඩුවෙවී යන හැටි අපි අද කතා කරලා ඊළඟ දවසේ අපි ආයුෂ වැඩිවෙන හැටි කතා කරලා, අනාගත ලෝකෙට මොකක්ද වෙන්නේ කියලා කොහොමද මෛත්‍රී බුදුරජාණන් වහන්සේ පහළ වෙන්නෙ කියලා කතා කරමු. මේ යන්නෙ ලෝක විස්තරය. ඊටපස්සෙ මේ ලෝකය විනාශ වෙන්නෙ කොහොමද කියලත් අහන්න ලැබේවි. අපි සූත්‍ර දේශනාව අද ඉගෙන ගනිමු. දීඝ නිකායේ චක්කවත්තී සීහනාද සූත්‍රය. මේ කාලයේ භාග්‍යවතුන් වහන්සේ මගධ ජනපදයේ මාතුලා නුවර තමයි වැඩවාසය කලේ. බුදුරජාණන් වහන්සේ විසිදාහක් සඟ පිරිස පිරිවරාගෙන මගධයේ විශාල දානයකට වැඩම කරලා වෙල් යායක් මැදින් වැඩම කරනවා. විශාල වෙල්යාය. එතකොට බුදුරජාණන් වහන්සේ පිටිපස්සෙ විසිදාහක් සංඝයාත් ඒ පිටිපස්සෙ පන්සීයකට අධික ගම් ප්‍රධානීන් සහිත දහස් ගණනක්, නගරවාසී ගම්වාසී බුදදුරජාණන් වහන්සේ වටේ පිරිවරා ගත්තා කියනවා, එදා බුදුරජාණන් වහන්සේ මගධයේ කුඹුරු යායක, තැනිතලා කුඹුරු යායක විශාල වෘක්ෂයක් යට තමයි වැඩ ඉදලා තියෙන්නෙ. ආනන්ද ස්වාමීන් වහන්සේ විසින් පනවන ලද සුගත් මහා සිවුරෙන් ආසනය වෘක්ෂය මුල පැනවුනා. මට මතක හැටියට දිවුල් වෘක්ෂයක් මුල වෙන්න ඕන. ඊටපස්සෙ පින්වත්නි එදා බුදුරජාණන් වහන්සේ ඒ ආසනයේ වැඩ ඉදලා දේශනා කලා අත්තදීපා භික්ඛවෙ විහරත අත්තසරණා අනඤ්ඤසරණා පින්වත් මහණෙනි තමාට තමාම දූපතක් කරගන්න. තමාම සරණ කරගන්න. අනඤ්ඤසරණා, වෙන සරණක් නෑ, ධම්මදීපා භික්ඛවේ විහරත, ධර්මය දූපතක් කරගන්න. ධම්මසරණා, ධර්මය සරණ කරගන්න. අනඤ්ඤසරණා වෙනසරණක් කරගන්න එපා. එතකොට බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා කොහොමද තමා තමාට දූපතක් කරගන්නෙ. තමා තමාට සරණ කරගන්නෙ, වෙන සරණක් කරගන්නැතිව. කොහොමද ධර්මය දූපතක් කරගන්නෙ, ධර්මය සරණ කරගන්නෙ, වෙන සරණක් කරගන්නැතිව. පින්වත් මහණෙනි, ඒ සරණ කරගන්නෙ මෙහෙමයි. කායෙකායානුපස්සී විහරති, කෙනෙක් කායානුපස්සනාව වඩනවා නම්, වේදනානුපස්සනාව වඩනවා නම්, චිත්තානුපස්සනාව වඩනවා නම්, ධම්මානුපස්සනාව වඩනවා නම් මේ සතර සතිපට්ඨානය අභිජ්ජාවිනෙය්‍ය ලෝකයේ, අවිද්‍යාවත් දෝමනස්සයත් දුරු කරගෙන මනාව සිහි නුවණින්, කෙලෙස් තවන වීර්යයෙන් යුතුව සතර සතිපට්ඨානය වඩනවා නම් ඒකට තමයි කියන්නෙ තමා තමාට දූපතක් කරගන්නවා කියලා. ධර්මයේ හැසිරීමමයි, ධර්මය ප්‍රායෝගිකව

තමන්ගේ ජීවිතයට ගලපා ගැනීමමයි. ධර්මයේ ප්‍රතිපදාව පුරුදු කිරීමමයි තමාට තමා දූපතක් කරගන්නවා කියන්නෙ. ධර්මය දූපතක් කරගන්නවා කියන්නෙ. පිළිසරණ කරගන්නවා කියන්නෙ වෙන සරණක් ගන්නැතිව. එහෙනම් බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ධර්මය සරණ යනවා, සංඝරත්නය සරණ යනවා කියන්නෙත් ඒකයි. මේ ධර්මයේ තියෙන දහමට පැහැදිලා දහමේ තියෙන දේවල් පුරුදු කරනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, වාසය කරන්න තකේපෙත්තිකේ විසේ, තමාගේ තාත්තගේ උරුමයේ ඉන්න, තමන්ගේ තාත්තගේ උරුමයේ හිටියොත් ඔබ ඔබේ වෙනවා. තමාගේ තාත්තගේ උරුමයෙන් ඈතට යන්න එපා. එතකොට මාරයාට අහුවෙනවා. මාරයා ඔබගේ සිදුරු දකිනවා. අරමුණු ගන්නවා. බුදුරජාණන් වහන්සේගේ ශාසනයේ තාත්තගේ උරුමය පිය උරුමය කියන්නෙ සතර සතිපට්ඨානයට. බුදුරජාණන් වහන්සේ වදාළා ඉස්සර කැටකිරිල්ලි - කැටකිරිල්ලි කියන්නෙ පස් කැට ඇතුලෙ හැංගිලා ඉන්න චූටි කුරුල්ලො ජාතියක්. මේ කිරිල්ලි තෙමිලා තොරණක් උඩට වෙලා අව්ව තපිනවා. එතකොට උකුස්සෙක් ඇවිල්ලා ඩැහැගත්තා. ඊටපස්සෙ කිරිල්ලි යන ගමන් කෑ ගගහ කියනවා හොඳ වැඩේ මට උනේ, හොඳ වැඩේ මට වුනේ. අපේ පිය උරුමයෙන් එන තැනමං ඉන්නැතිව නුසුදුසු තැනක හිටපු නිසා මට මෙහෙම වුනේ. හොඳ වැඩේ මට. හොඳ වැඩේ කියලා විලාප තියනවා. එතකොට අර උකුස්සා අහනවා නැත්නම් අර ගිජු ලිහිණියා අහනවා තොටත් තියෙනවාද තොගේ පරම්පරාවෙන් ආපු ආරක්ෂිත තැනක්. මට තියෙනවා. කොහෙද ඇහුවා, පස් පිඩැල්ල. ඉතින් ඒ තැන මම හිටියා නම් උඹලට මාව අල්ලන්න වෙන් නෑ කිව්වා. ඊටපස්සෙ අර ගිජු ලිහිණියාට නැත්නම් උකුස්සාට බලවත් මාන්නයක් ඇවිල්ලා තෝ කොහෙන්ද මගෙන් නිදහස් වෙන්නෙ එහෙනම් මං දැන් අතාරිනවා, උඹ හිටපංකො බලන්න උඹේ ආරක්ෂිත තැන කියලා අතැරියා කිරිල්ලි. කිරිල්ලි වේගෙන් ඇවිල්ලා පස් කැටයක් උඩට ආවා. ඇවිල්ලා කෑගහලා කිව්වා, ඒයි ගිජු ලිහිණියො වර. දැන් වර. පුලුවන් නම් අල්ලපිය මාව. එතකොට අර අහසේ හිටපු ගිජු ලිහිණියා වේගයෙන් පියාපත් දෙක දෙපැත්තට විහිදුවාගෙන වේගයෙන් අර කිරිල්ලි කරා ආවා. එනකොටම එසැණින් කැට කිරිල්ලි පස් කැටය ඇතුලට රිංගුවා. අර ආපු වේගෙ ගිජු ලිහිණියාට නවත්තගන්න බැරිව අර පස් කැටේ පපුව වැදිලා මරණය කරා පැමිණුනා. දැක්කද තමන්ගේ පියාගේ විෂයේ සිටීමෙන් සතුරාට වෙන හානිය. ඒ වගේම තමන්ට වෙන ආරක්ෂාව. බුදුරජාණන් වහන්සේ වදාළා බුදුරජාණන්

වහන්සේගේ ශ්‍රාවකයෙක් නම් මාරයාගෙන් ගැලවීම පිණිස, සතර සතිපට්ඨානයේම වාසය කරන්න ඕන. එහෙම විස්තර කරලා බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා පිනවත් මහණෙනි, කුසලානං ධම්මානං සමාදාන හේතු ඒවමෙදං පුඤ්ඤං පවට්ඨති, කුසල් දහම් සමාදන් වීම හේතුවෙන් පින් වැඩෙනවා. පිනම වැඩෙනවා. බුදුරජාණන් වහන්සේ දැන් තමයි ලස්සනට මේ කාරණාව විස්තර කරන්නෙ. භූත පුබ්බං භික්ඛවෙ, පින්වත් මහණෙනි මේක ඉස්සර වෙච්ච  දෙයක්. මේ ලෝකයේ හිටියා සක්විති රජ කෙනෙක් දල්ලනේමි කියලා. හොඳට දැන් කන් යොමු කරගෙන අහන්න අපේ ආයුෂ කොහොමෙයි අඩු වුනේ කියලා. මේ දල්ලනේමි රජ්ජුරුවො අවුරුදු අසූදාහක් ආයුෂ තියෙන කාලයේ ලෝකයේ පහළ වුනේ. ඉතින් දල්ලනේමි රජ්ජුරුවන්ට සප්ත රතන තිබ්බා. හස්ථි රතනය, අශ්ව රතනය, මනි රතනය, මේවා ගැන අපි කලින් කියලා තියෙනවා ඔබට. එතකොට මේ රජ්ජුරුවො මුළු පෘථිවියේම අධිපති වෙලා සක්විති රජතුමා වාසය කරන කාලයේ මේ දල්ලනේමි රජ්ජුරුවො බොහෝ කාලයක් ගියාට පස්සෙ තමන්ගේ හිතවත් පුරුෂයෙකුට කතා කලා. රාජ පුරුෂයෙකුට. එම්බා පුරුෂය, යම් දවසක දිව්‍ය වූ චක්‍රරත්නය තිබූ තැනින් බැස තිබූ තැනින් බැහැර වී තිබෙනු දකින්නෙහි නම් එවිට මට කියන්න. ඒ කියන්නෙ ඒ සක්විති මැණික රජතුමාගේ අන්තඃපුරයේ මාළිගාවේ දොරටුව ඉස්සරහ ආකාශයේ තියෙනවා විශාල කරත්ත රෝදයක් තරම් එළිය මහා විශාල මැණිකක් අහසේ තියෙනවා. එතකොට ඒ මැණික ඉස්සරහින් බිම පොලොවේ, දැන් අහසේ මැණික තියෙන්නෙ. පොළොවේ ආසන පනවලා සමන්පිච්ච මල් විසුරුවලා, සුදු වැලි විසුරුවලා, සමන්පිච්ච මල් අතුරලා, ධජ පතාක බැඳලා බුද්ධ ශාසනයක මහා ධාතු ස්තූපයක් වඳින්නෙ පුදන්නෙ යම් සේද, සක්විති රජතුමාගේ කාලයේ සක්විති මැණිකට වඳිනවා සියලු දෙනා. ඉතින් කිව්වා ඔය මැණික තිබ්බ තැනින් පොඩ්ඩක් හරි වෙනස් වුනොත් මට කියාපං. බොහෝ කාලයක් ගියාට පස්සෙ මැණික තිබ්බ තැනින් වෙනස් වුනා. පොඩ්ඩක් එහෙමෙහෙ වුනා, පල්ලෙහාට වැටුනා. පුරුෂයා ඇවිල්ලා කියනවා රජතුමනි, සක්විති මැණික වෙනස් වුනා. දල්ලනේමි රජ්ජුරුවො වැඩිමහල් පුතාට කතා කරලා කියනවා, පුත්‍රය සක්විති මැණික තිබ්බ තැනින් වෙනස් වෙලා. ඒ නිසා මම අහලා තියෙනවා සක්විති මැණික තිබ්බ තැනින් වෙනස් වුනොත් එහෙම ඒ රජ්ජුරුවන්ගේ ආයුෂ ඒ හැටි කාලයෙක් තියෙන්නෙ නෑ කියලා. පුත්‍රය, මා විසින් මේ මනුස්ස පඤ්චකාම සම්පත්තිය ගොඩාක් භුක්ති වින්දා. මට දැන් ඕන දිව්‍යලෝක පඤ්චකාම සම්පත්තිය භුක්ති විඳින්න. ඉතින්

ඒ නිසා මං පැවිදි වෙනවා. උඹ රජකම ගනිං කියලා, වැඩිමහල් පුත්‍රයාට රාජ්‍යය දීලා කෙස් රැවුල් බාලා, කසාවත් හැඳගෙන, පැවිදි වුනා. ඒ රාජ ඍෂීන් වහන්සේ උද්‍යානයේම, වනගත උද්‍යානයේ තපස් රකිමින් වාසය කරනවා. ඒ සක්විති ඍෂීන් වහන්සේ, රාජ ඍෂීන් වහන්සේ පැවිදි වෙලා දවස් හතක් ගියාට පස්සෙ සක්විති මැණික අතුරුදහන් වුනා. ඊටපස්සෙ මිනිස්සු ඇවිල්ලා අලුතින් පත්වුනු රජතුමාට කියනවා, දේවයෙනි දැනගන්න, දේවයෙනි සක්විති මැණික අතුරුදහන් වුනා. ඊටපස්සෙ ඒ රජතුමා සක්විති රජතුමාගෙ පුතානෙ දැන් රජවෙලා ඉන්නෙ. ඒ රජතුමා ගොඩාක් අසතුටට පත්වුනා, දුකට පත්වුනා. ඒ ලහිලහියේ කඳුළු පෙරුනු මුහුණින් යුතුව උද්‍යානයේ වනගත උද්‍යානයේ වාසය කරන රාජ ඍෂීන් වහන්සේ ළඟට ගියා. දේවයන් වහන්ස, චක්‍රරත්නය නොපෙනී ගියා කියලා රාජ ඍෂීන් වහන්සේට වන්දනා කලා. රාජ ඍෂීන් වහන්සේ කියන්නෙ අර පැවිදි වුන සක්විති රජ්ජුරුවොනෙ. කියනවා පුතේ, දුක්වෙන්න එපා, අසතුටට පත්වෙන්න එපා. ඔය දිව්‍ය චක්‍ර රත්නය කියන එක තාත්තාගෙන් පුතාට ලැබෙන එකක් නෙවෙයි. සක්විති වත් පුරන මහා පින්වන්ත රජ කෙනෙක්ට පහළ වෙන එකක්. පුත්‍රය උඹත් ආර්ය වූ සක්විති වත් පුරපන්. එතකොට ඒ උඹගේ අතින් ආර්ය සක්විති වත් පිරෙනකොට, ගුණධර්ම පිරෙනකොට නුඹටත් චක්‍ර රත්නය පහළ වෙයි. නුඹටත් මේ මුළු පෘථිවියේම අධිරාජ්‍යයා බවට පත්වෙන්න පුලුවන් වෙයි සක්විති රජ්ජුරුවො වෙන්න. මොනවද රාජ ඍෂීන් වහන්සේ සක්විති වත. කියනවා පුත්‍රය, ධම්මං ඒව නිස්සාය, ධර්මයම ඇසුරු කරගෙන, ධර්මයටම ගරු කරමින්, ධර්මයටම සත්කාර කරමින්, ධර්මයටම පුදමින්, ධර්මයම ධජයක් කරගෙන, ධර්මයම පතාකයක් කරගෙන, ධර්මයම අධිපති කරගෙන, ධර්මයම මුලට අරගෙන, අන්තඃපුරයේ ජනයාට ආරක්ෂාව සලසන්න ඕන. ධර්මයම මුලට ගනිමින් රාජ යුධ භටයන්ට හමුදාවට ආරක්ෂාව සලසන්න ඕන. ධර්මයම මුලට ගනිමින් රාජකීය පිරිසට රැකවරණය සලසන්න ඕන. ධර්මයම මුලට ගනිමින් බ්‍රාහ්මණ, ගෘහපති වරුන්ට ආරක්ෂාව සලසන්න ඕන. ධර්මයම මුලට ගනිමින් ජනපද වැසියන්ට ආරක්ෂාව සලසන්න ඕන. ධර්මයම මුලට ගනිමින් ශ්‍රමණ බ්‍රාහ්මණයන්ට රැකවරණය ආරක්ෂාව කරන්න ඕන. ධර්මයම මුලට ගනිමින් යටත් පිරිසෙයින් වන සිවුපාවන්ට පක්ෂීන්ට පවා රැකවරණය ආරක්ෂාව සලසන්න ඕන. පුත්‍රය ඔබගේ විජිතයේ අධාර්මික ක්‍රියා සිද්ධ වෙන්න දෙන්න එපා. පුත්‍රය ධනය නැති අයට ධනය දීපං. පුත්‍රය, සිත සංසිඳවාගන්නා ලද ශ්‍රමණ බ්‍රාහ්මණවරු ඉන්නවා, කෙලෙස් තවන. ඒ ඇත්තන් කරා ගිහිල්ලා කාලෙන්

කාලෙට, මේ හොඳයි ද මේ නරකයි ද කල යුත්තේ කුමක්ද, නොකළ යුත්තේ කුමක්ද කියලා අවවාද අනුශාසනා ගනිං. මාගේ පුත්‍රය, ඔය තමයි කිව්වා ආර්ය චක්‍රවර්ති සක්විති වත කියලා. දැන් මං මේකෙ දැන් සක්විති රජ කෙනෙක් කියන්නෙ ලෝකෙටම අධිපති වෙන කෙනානෙ. එතකොට මං මේක කියවනකොට කල්පනා කලේ එහෙනම් අධිපති වෙන්න ලෝකෙට එහෙනම් එයා අනිත් අයට ඒ රැකවරණය ආරක්ෂාව ඉස්සෙල්ලා දෙන්න ඕන. ඊටපස්සෙ තමයි ඒ සියලුම පිරිසේ අධිපතියා බවට එයා නිකන්ම පත්වෙන්නෙ. දැන් ගෙදරක ඔබ කැමැති නම් ගෙදර අධිපතියා වෙන්න එහෙනම් ස්වාමියා අධිපති වෙන්න නම් තමන්ගේ බිරිඳට හොඳට රැකවරණය ආරක්ෂාව දෙන්න ඕන. රැකවරණය ආරක්ෂාව සැපපහසුව දෙන්න ඕන, දුක් නොදී ඉන්න ඕන. තමන්ගේ දරුවන්ට රැකවරණය ආරක්ෂාව දෙන්න ඕන, දුක් නොදී ඉන්න ඕන. එතකොට කෙලින්ම එයා ගෙදර ප්‍රධානියා බවට පත්වෙනවා. එහෙනම් අද කාලෙ මේ පිරිමි ජාතිය මේ අධිපති බවෙන් හීන වෙලා තියෙන්නෙ ඇයි. බලන්නකො සමහර පිරිමි ඉන්නවා ගෙවල් වල දාස මට්ටමේ ඉන්නෙ. ඇයි ඒ, තමාම කරගත්ත දේවල්. තමාට හැකියාවක් ශක්තියක් උත්සාහයක් නෑ ගෙවල් වල අයට රැකවරණය, ආරක්ෂාව, ආදරය දෙන්න. ඒ නොදීම හේතු කරගෙන මොහු ගෙදර අධිපතියා වෙන් නෑ, ඊළඟට සමහර වෙලාවට තමන්ගේ ධනයක් තියෙනවා නම් එක්කො ඒ පිරිමියා ඒ ධනය ලෝභකමින් තමාගේම යටතේ තියාගෙන භුක්ති විඳිනවා. බිරිඳගේ අඩුලුහුඬුකම් මොනවාද, ඇට කුමක්ද අවශ්‍ය, දරුවන්ගේ අඩුලුහුඬුකම් මොනවාද, ඔය දරුවන්ට මොනවද අවශ්‍ය, ඒවා හොයලා බලන් නෑ, එතකොට ඔවුන් පෙළඹෙනවා ටික ටික එයාලගේ ජීවිතේ වෙනස් කරගන්න. එතකොට මේවා හේතු සහිතයි, ප්‍රත්‍යය සහිතයි මේ ගෙවල්වල ප්‍රශ්න වලට. මේක කියවනකොට මට තේරුනේ බලන්න ලෝකෙටම අධිපති කෙනෙක් බවට පත්වෙන්න නම් ඉස්සෙල්ලාම ලෝකයට රැකවරණය, ආරක්ෂාව, සැනසිල්ල, සැපය දෙන්න ඕන. ඊටපස්සෙ එහෙමයි කියලා ඒ සක්විති පුත්‍රයා, ඒ රජ්ජුරුවො සක්විති වත් පිරුවා. හොඳට පුරලා, පුන් පෝය දවසක උඩුමහන්තලයේ ඉන්නකොට ආකාසයේ සක්විති මැණික පහල වුනා. ඒ මැණිකට පැන් වඩලා ඒ සක්විති රජ්ජුරුවො තමන්ගේ පිරිවරත් එක්ක මුළු පෘථිවිය වටේම අහසින් ගියා. කොහොමද අහසින් යන්නෙ, අහසේ පහළ වෙන සක්විති මැණිකට පැන් ඉස්සාම මෙහෙම කැරකෙනවා කරත්ත රෝදෙ වගේ. ඒ කැරකෙනකොට රජතුමයි ඇමතිවරුයි සියලු දෙනාම නිකම්ම මැණිකේ

ආනුභාවයට අහසට යනවා. අහසින් තමයි හැම රාජ්‍යයකටම යනවා. එතකොට ඒ රාජ්‍යවලට ආරංචි වෙනවා ආකාසෙන් සක්විති මැණික පෙරටු කරගෙන රජතුමා එනවා කියලා. සියලු රාජ්‍ය වල රජවරු දණ ගහනවා. මේ ඔබවහන්සේට අයිතියි මේවා කියලා. කියනවා මේ වගේ මම එන්නෙ නෑ, ඔහේලම රජකම් කරන්න, හැබැයි සත්තු මරන්න එපා, හොරකම් කරන්න එපා, වැරදි කාම සේවනය කරන්න එපා, බොරු කියන් එපා, මත්පැන් මත්ද්‍රව්‍ය පාවිච්චි කරන්න එපා කියලා සක්විති ආඥාව පතුරවනවා. එහෙනම් සක්විති රජවරුන්ගේ සක්විති ආඥාව කුමක්ද, පඤ්චසීලය රකින එක. එතකොට ඒ රජවරු තම තමන්ගේ රාජ්‍යය කලින් විදියටම පාලනය කරනවා. හැබැයි සක්විති රජතුමාගේ අණට යටත්. කුමක්ද අණ, පන්සිල් කඩන් නෑ. එහෙම තමයි මුළු පෘථිවියම සක්විති රජතුමාට යටත් වෙන්නෙ. ඒ නිසානෙ මුළු පෘථිවියේම අය පඤ්චසීලයට යටත් වන නිසා ඒ සක්විති රජතුමා මැරිලා ගිහිල්ලා තව්තිසාවෙ උපදිනවානෙ. සක්විති රජතුමා මැරුණට පස්සෙ සක්විති රජතුමාගෙ භෂ්මාවශේෂ තැන්පත් කරලා බුදුවරුන්ට වගේ ස්තූප කරලා පුදන්න සුදුසුයි කියනවානෙ. ඒ සක්විති රජතුමාගේ සොහොනට වඳින අයත් දෙව්ලොව යනවා කියනවානෙ. බලන්න අන් අය පඤ්චසීලයේ පිහිටුවන කෙනෙකුට තියෙන ආනුභාවය. අන් අයට තිසරණය සමාදන් කරවලා ධර්මය කියා දීලා පන්සිල් කියා දීලා පැවිදි උපසම්පදා ආදිය කරලා මහා ශාසනික යහපතක් කරපු කෙනෙකුට අපි වැන්දොත් පිදුවොත් සත්කාර ගරු කලොත් කොයිතරම් පිනක්ද. ඊටපස්සෙ ඔන්න දැන් සක්විති රජතුමා මුළු රාජ්‍යයටම ප්‍රධාන වෙලා වාසය කරනවා. අර සක්විති මැණික පෘථිවිය වටාම සෑම රාජ්‍යයකම කැරකිලා ඇවිල්ලා අන්තඃපුරයේ ඇතුල් නුවර ආකාසේ පිහිටනවා, කලින් වාගේම වන්දනාමාන කරමින් ඉන්නවා. පින්වත් මහණෙනි, ඔය විදියට ඔය සක්විති රජතුමාත් සක්විති රජතුමාගේ පුත්‍රයාත් ඔය විදියටම ආපහු සක්විති රජ වෙනවා. හැම සක්විති කෙනෙක්ම මැණික තිබ්බ තැනින් වෙනස් වෙච්චි ගමන් මහණ වෙනවා පළවෙනි සක්විති රජ්ජුරුවො, දෙවෙනි සක්විති රජ්ජුරුවො, තුන්වෙනි සක්විති රජ්ජුරුවො, හතරවෙනි සක්විති රජ්ජුරුවො, පස්වෙනි සක්විති රජ්ජුරුවො, හයවෙනි සක්විති රජ්ජුරුවො, හත්වෙනි සක්විති රජ්ජුරුවො තමන්ගේ මැණික වෙනස් වුනාට පස්සෙ චක්‍ර රත්න මාණික්‍යය, පුතාට රජකම දීලා පැවිදි වෙන්න ගියා. ඔන්න පුතා රජකම අරගෙන දවස් හතක් ගිය තැන මැණික අතුරුදහන් වුනා. දැන් මෙතන පින්වත්නි, දල්ලනීනී රජ්ජුරුවන්ගෙන් පටන් ගත්ත සක්විති රජ පරම්පරාවේ

සක්විති රජවරු හත්දෙනයි පහළ වෙන්නෙ. මඛාදේව රජ්ජුරුවන්ගෙන් පටන් ගන්න ඒ සක්විති පරම්පරාවේ සක්විති රජවරු හත්දාස් හාරසීයක් විතර පහළ වෙනවා. ඒ ගැන අපි කතා කලා නිමි ජාතකයේ, මඛාදේව සූත්‍රයේ. ඒ ආදී වශයෙන් ඒවගේ තියෙනවා විස්තරයේ, මේ දේශනා වල කලින් ඔය දහම් කරුණු කියවුනා. එතකොට මේ රජ්ජුරුවන්ගේ දල්ලනීනී රජ්ජුරුවන්ගෙන් පටන් ගන්න සක්විති පරම්පරාව හතයි යන්නෙ, හත්වෙනි රජ්ජුරුවන්ගේ පුතා හත් වෙනි දවසේ මැණික අතුරුදහන් වුනාට පස්සෙ රාජ ඍෂීන් වහන්සේ පැවිදි වෙලා මෙයා මොකද කරන්නෙ, දුකට පත්වුනා. හැබැයි එකක් කලේ නෑ, තමන්ට දුකක් කරදරයක් එනකොට හැම රජ කෙනෙක්ම ගියානෙ රාජ ඍෂීන් වහන්සේ මුණගැහෙන්න. ගියෙ නෑ. ගියෙ නෑ. ඊටපස්සෙ මොකද වුනේ. හිතුමනාපේ රාජ්‍යය පාලනය කලා. රජතුමා හිතුමනාපේ රාජ්‍ය පාලනය කරනකොට ජනපද පිරිහෙන්න ගත්තා. සමෘද්ධිය නැතිවෙන්න ගත්තා. ඔයාලගේ ගෙවල් වල ප්‍රශ්නත් ඔය වගේ. පුංචි කාලෙ පුංචි පැටව් කාලෙ ගෙවල් වල ළමයි පොඩි ප්‍රශ්නෙ වුනත් දුවගෙන ඇවිල්ලා අම්මගේ තාත්තගේ ඇඟේ එල්ලිලා කියනවානෙ, අම්මෙ අරයා මට ගැහුවා අම්මේ අරයා මට බැන්නා, අනේ අරයා මගේ හිත රිද්දෙව්වා. ඊටපස්සෙ ඉතින් ඔළුව අතගාලා කියලා දීලා ඔන්න ඉන්නවා. ළමයි ටික ටික වැඩෙනවා. අඩුබඩු දික් වීගෙන මහත් වීගෙන එනකොට මේ නාඹර කොල්ලො කෙල්ලො, ඊටපස්සෙ හිතට පීඩාවක් දුකක් අවාට පස්සෙ තමුන්ගේ අම්මට කියන් නෑ, තාත්තට කියන් නෑ. හිතුමනාපෙ ඉන්නවා. එතනම පිරිහීම පටන් ගන්නවා. බලන්න මේ ප්‍රශ්න වල හේතු සහිතයි, ප්‍රත්‍යය සහිතයි. ඊටපස්සෙ මොකද වුනේ, දැන් ඔන්න මේ සක්විති පුතා මේ රජතුමා කිව්වෙ නෑ ඍෂීන් වහන්සේට. හිතුමනාපේ රාජ්‍යය පාලනය කලා. පාලනය කරනකොට ජනපද පිරිහි පිරිහී ගියා. ඇමතිවරු, රජ පිරිස, ගණකයො, මහාමාත්‍යවරු, හමුදා බලප්‍රධානීන්, දොරටුපාලකයො, උපදේශකයො රැස් වුනා. රැස්වෙලා රජතුමාට කිව්වා ඔබතුමා හිතුමනාපෙ රට පාලනය කරන නිසා මේ රට පිරිහි පිරිහී යනවා. ඒ නිසා රජතුමනි ඔබතුමා සක්විති වත් ගැන අපෙන් අහන්න. අපි එතකොට කියලා දෙන්නම්. ඊටපස්සෙ ඒ රජ්ජුරුවො රාජකීය ඇමතියන්ගෙන්, ගණකයන්ගෙන්, මහාමාත්‍යයන්ගෙන්, බලප්‍රධානීන්ගෙන්, ද්වාරපාලකයන්ගෙන්, උපදේශකයන්ගෙන් රැස් කරලා ඇහුවා සක්විති වත් මොනවාද කියලා. සක්විති වත් කියලා දුන්නා. දැන් මෙතනත් තව ප්‍රශ්නයක් තියෙනවා. මෙතෙක් පහළ වුනු රජවරුන් සක්විති වත් ඇහුවෙ කාගෙන්ද. රාජ ඍෂීන් වහන්සේගෙන්

ඇහුවෙ. කියන්නෙ කලින් සක්විති වෙලා හිටපු අයගෙන් ඇහුවෙ. දැන් මෙයා කාගෙන්ද අහන්නෙ. දොරටුපාලකයන්ගෙන් අහනවා. හැබැයි එයාලත් අර විදියටම කිව්වා. කිව්වට පිහිටියෙ නෑ රජතුමාට. එහෙනම් තමන් ශ්‍රද්ධාව උපද්දවගන්න නම් ශ්‍රද්ධාව තියෙන කෙනෙක්ගෙන් බණ අහන්න ඕන. ශාසනයේ පිහිට ගන්න නම් ශාසනයේ පිහිට ගත්ත, නැත්නම් ශාසනයේ පිහිට කැමති, ශාසනය දැනෙන කෙනෙක්ගෙන් බණ අහන්න ඕන. උපදෙසක් ගන්න ඕන උපදෙසක් දෙන්න පුලුවන් කෙනෙක්ගෙන්. සුදුසු කෙනෙක්ගෙන්. දැක්කද නුසුදුසු අය කරා ගිහිල්ලා උපදෙස් ගැනීමේ ආදීනව ජේනවද. දොරටුපාලකයාගෙන් ඇහුවානෙ සක්විති වත්. පින්වත් මහණෙනි මේ රජතුමා මේ ගුණධර්ම පුරුදු කරන්න උත්සාහ කලා. ඊටපස්සෙ මොකද වුනේ. හැබැයි මේ රජතුමා ධනය නැති අයට ධනය දුන්නෙ නෑ. ධනය නොදුන් නිසා දුප්පත් අය පහළ වුනා. දුප්පත් අය පහළ වෙච්චි නිසා ඒ අයට ජීවත් වෙන්න ක්‍රමයක් නැතිව එක මනුෂ්‍යයෙක් බඩගින්නෙ මැරෙන්න බැරියෝ කියලා අල්ලපු ගෙදර වැටෙන් පැනලා තියෙන බඩුමුට්ටු ටිකක් හොරාගෙන ඇවිල්ලා කෑවා බීවා. ඒ මිනිස්සු මොහුව අල්ලගත්තා. රජතුමනි බලන්නකො මේ මනුස්සයා නොදුන්නා වූ දේ සොරකම් කලා. රජතුමා ඇහුවා, හැබෑද උඹ හොරකම් කලාද. එසේය දේවයන් වහන්ස. ඇයි උඹ හොරකම් කලේ, අනේ කාලා බීලා ජීවත් වෙන්න විදියක් නෑ, මං බඩගින්නෙ ඉන්නෙ, දරු මල්ලො මැරෙයි. ඉතින් ඕක මට කලින් කියන්න එපායැ කියලා භාණ්ඩාගාර අමාත්‍යවරයාට පැවරුවා මෙයාට ධනය දෙන්න. කෑම බීම මුළු පවුලම පෝෂණය කරන්න ධනය දෙන්න ඕන. ඊටපස්සෙ මොකද වුනේ, දැන් ඔන්න අණ්ඩඇල්ලීම මේ තියෙන්නෙ. අණ්ඩඇල්ලීම, ඊටපස්සෙ කියනවා මෙයාටම ධනය දුන්නා, කිව්වා උඹ ගිහිල්ලා හොඳට තමන්ගේ අම්මට තාත්තට කවලා පොවලා මිනිස්සුන්ගෙන් හොරකම් කරන්න එපා හොඳට ජීවත් වෙන්න. ඊටපස්සෙ ඔන්න දැන් මිනිස්සුන්ට ආරංචි වුනා අඩේඅප්පා හොරකම් කරනකොට මේන්න රජතුමා ධනය දෙනවා කියලා තවත් මනුස්සයෙක් හොරකම් කලා. ඒ මනුස්සයාටත් ධනය හම්බුනා. දැන් මේක පැතිරිලා ගිහිල්ලා තවත් මනුස්සයෙක් හොරකම් කලා. හොරකම් කරනකොට රජතුමාට හිතුනා මේකනම් හරියන වැඩක් නෙවෙයි. දැන් මේකෙන් වෙන්නෙ හොරකම් කරන අය වැඩිවෙන එක. ඒ නිසා මොවුන් හොරකම් කරන්නැති මට්ටමට දඬුවම් කරන්න ඕන කියලා නියෝගයක් පැනෙව්වා, මොකක්ද පනවපු නියෝගය තමයි හොරකම් කරපු කෙනාව වදබෙර ගගහා ගිහිල්ලා දකුණු දොරටුවෙන්, දකුණු දොරටුවෙන් තමයි

නික්මෙන්නෙ වද බෙර ගහන අය. දැන් මේවා මතක තියාගෙන ඉන්න, අපේ බුදුරජාණන් වහන්සේගේ පිරිනිවන් පෑම, ආදාහනය ගැන කියනකොට මේ දොරටු විස්තරය එනවා. බුදුරජාණන් වහන්සේගේ දේහය දකුණු දොරටුවෙන් ගෙනියන්න හදනකොට දේහය උස්සන්න බැරිව යනවා. හේතුව දකුණු දොරටුවෙන් තමයි මරන්න ගෙනියන අය ගෙනියන්නෙ. වැරදි කරපු අය ගෙනියන්නෙ. යම් මොහොතක සියලු දෙනා බුදුරජාණන් වහන්සේගේ දේහයට දණ ගහලා සමාව අරන් අපි උතුරු දොරටුවෙන් දේහය වඩම්මනවා කියලා හිතුවාද ඒ මොහොතේ තමයි දේහය උස්සන්න පුලුවන් වුනේ. පුදුම සහගත දේවල් වෙලා තියෙනවා. ඉතින් දකුණු දොරටුවෙන් වද බෙර ගහගෙන ගිහිල්ලා මරාදාපං කියලා රජ්ජුරුවො කිව්වා. ඊටපස්සෙ ඔන්න කෑගගහ අඬ අඬා ඉද්දීන් දකුණු දොරටුවෙන් ගිහිල්ලා හිස ගසා දැම්මා. හිස ගසා දැම්මට පස්සේ ඔන්න ආයෙ පැතිරිලා ගියා රාවයක්, යම්කිසි කෙනෙක් හොරකම් කරලා අහුවුනොත් එහෙම ඒ කෙනාව රජතුමා විසින් මරලා දානවා කියලා පණිවිඩයක් ගියා රටේ හැමතැනම. එතකොට හොරකම් කරන එවුන් කල්පනා කලා මේක රජතුමා ළඟට යන්නෙ කවුරුවක්හරි කිව්වොත්නෙ. අපි කියන්නැති විදියට වැඩේ කරමු කියලා ආයුධ හැදුවා. ආයුධ හදලා, හොරකමේ යනකොට ආයුධ අරන් ගියා. කවුරුහරි තමන් හොරකම් කරනවා දැක්කද, එයාට කියන්න බැරි විදියට ඒ වෙලාවේම බෙල්ලා කැපුවා. හොරු කලේ මේක. බුදුරජාණන් වහන්සේ දේශනා කලා බලන්න පින්වත් මහණෙනි, රජතුමා ධනය නොදුන්නු නිසා දිළිඳු බව වැඩිවුනා. දිළිඳු බව වැඩිවෙච්චි නිසා අන්සතු දේ පැහැර ගත්තා. අන්සතු දේ පැහැරගැනීම නිසා අවි ආයුධ පහළ වුනා, අවි ආයුධ පහළ වෙච්චි නිසා මනුස්ස ඝාතනය සිද්ධවුනා. යම් දවසක මනුස්ස ඝාතනය සිද්ධ වුනාද පින්වත් මහණෙනි, ඔවුන්ගේ ඊළඟ පරම්පරාවල අයට අසූදාහක් ආයුෂ තිබ්බ මිනිස්සුන්ගේ ආයුෂ භාගෙට භාගයක් අඩුවුනා. ඊළඟ දරු පරම්පරාව බිහිවුනේ ඒ අයගේ දරු පරම්පරාව අවුරුදු හතළිස්දාහයි. දැන් වැරැද්ද කලේ කවුද, මහඋන්දලා. ඒකෙ කර්ම විපාක බලපෑවේ කාටද, පොඩිඋන්ට. අකුසල් වල ස්වභාවය. තමන් කරන එක තමන්ට විපාක දෙනවා. නමුත් ලෝක පැවැත්ම බලන්න, අටලෝ දහම, මිනිස්සුන්ගේ ආයුෂ පැවැත්ම බලන්න. මහමිනිස්සු පව් කරන්න කරන්න පව් කරන මිනිස්සුන්ගෙන් ජාතක වෙන දරුවන්ගේ ආයුෂ අඩුයි. අවුරුදු හතළිස්දාහකට අඩුවුනා ප්‍රාණඝාතය නිසා. ඊටපස්සෙ ඔන්න ආයෙ හොරෙක් අහුවුනා. හොරෙක් අහුවෙලා කිව්වා තෝ හොරකම් කලාද. දැන් මෙයා දන්නවා දැන් මේක අහුවෙච්චි ගමන් මැරෙනවා

කියලා. ඔන්න ලෝකෙ පළවෙනි වතාවට වචනයක් එළියට ආවා. නැත දේවයන් වහන්ස, මොකක්ද මේ ඇදබෑවෙ, බොරුව. හොරකම් කරලා බයට නෑ කියලා කියනවා. පින්වත් මහණෙනි, මේ ලෝකයේ බොරුව කියලා එකක් පහළ වුනාද, ඒ බොරුව පහළ වෙච්චි නිසා අවුරුදු හතලිස්දාහක් ආයුෂ තිබ්බ ඒ දෙමව්පියන්ගේ ඊළඟ පරම්පරාවට ආවා අවුරුදු විසිදාහක් වුනා. බොරුවෙන් වෙච්චි දේ. එතකොට අද කාලෙ පස්පව් දස අකුසල් කරන විදිය බලනකොට මේ දරුවොන්ට මෙහෙම ආයුෂත් තියෙනවා පුදුමයි. මේක වෙන්නෙ හිමීට හිමීට ඒ පරම්පරාවල් වල ඒක වෙන්නෙ. ඊළඟට පින්වත් මහණෙනි, දැන් අවුරුදු විසිදාහක් ආයුෂ තියෙන කාලයේ මොකද වුනේ. තව මනුස්සයෙක් දැක්කා තව මනුස්සයෙක් හොරකම් කරනවා. හිටපිය උඹට කියලා ගිහිල්ලා රජතුමාට කිව්වා රජතුමනි අහවලා අහවලාගේ දේ හොරකම් කලා කියලා. මොකක්ද මේ කිව්වෙ, කේලම්. කොහේහරි මුල්ලකට වෙලා හැංගිලා බලාන ඉන්නවා අරකා මොකක්ද කරන්නෙ, අරකී මොකක්ද කරන්නෙ කියලා. ගිහිල්ලා කේලම ඇදබානවා. පින්වත් මහණෙනි, මේ ලෝකෙ කේලම කියලා එකක් පහළ වුනාද, එදාට අවුරුදු විසිදාහක් ආයුෂ තිබ්බ මිනිස්සුන්ගේ ඊළඟ දරු පරම්පරාව අවුරුදු දහදාහක් දක්වා ආයුෂ අඩුවුනා. ආයුෂ විතරක් නෙවෙයි, ආයුෂයෙනුත් අඩු වෙනවා, වර්ණයෙනුත් අඩුවෙනවා. ඒ කියන්නෙ ආයුෂත් අඩුවෙනවා දැන් භාගෙට භාගයක්. ලස්සනත් භාගෙට භාගයක් අඩුවෙනවා. එතකොට මුල් කාලෙ හිටපු අයගේ රූප ස්වභාව ලස්සන කියන එක කොහොම එකක් වෙන්න ඇතිද. ඇත්තටම මේවා බලනකොට අවුරුදු අසූදාහක් ආයුෂ තියෙන කාලෙ මිනිස්සුන්ගේ ලස්සන කියන එක අපිට හිතාගන්නවත් බෑ. එච්චර ඇයි, ආයුෂ මෙච්චර අඩු වුනානෙ. ඉතින් ඇත්තටම අවුරුදු පනහක් හැටක් ඉන්න අපිට අවුරුදු අසූදාහක් කියන්නෙ මොකක්ද කියලා හිතාගන්නවත් බැනෙ. මට නම් බෑ. එහෙනම් ඒ කාලෙ තිබ්බ ලස්සනත් භාගෙට භාගයක් අඩුවෙවී අඩුවෙවී ආවා නම් අවුරුදු අසූදාහක් කාලෙ අයගේ මූණෙ තිබ්බ ලස්සන කොහොම එකක් වෙන්න ඇතිද. එතකොට ඒ අවුරුදු අසූදාහක් කාලෙ ඉන්න මිනිස්සුන්ගේ ලස්සනත් අභිබවා ගිය ලස්සනක් නම් බුදුරජාණන් වහන්සේට තියෙන්නෙ, තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ මහා පුරුෂ ලක්ෂණයන්ගෙන් යුතු උතුම් සම්බුදු සිරුරේ ස්වභාව කොහොම ඇතිද. ඉතින් පින්වත්නි, මේ විදියට කේලම් කීමත් එක්ක මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු දහදාහට අඩු වෙලා ඉන්නකොට ඒ මිනිස්සුන්ගේ ලස්සන කැත කියන ඒවා මිනිස්සුන්ට පේන්න ගත්තා. එතකොට එතෙක් කාලයක් අහවලා ලස්සනයි

අහවලා කැතයි කියලා කතා නෑ. ආයුෂ අඩුවෙනකොට ලස්සන පේන්න ගත්තා, කැත පේන්න ගත්තා. ඒ ලස්සන කැත කියන එක පේන්න ගත්තට පස්සෙ කැත අය රූපය අඩු අය රූපය ලස්සන අය දිහා වැඩිපුර බලා හිටියා. වැඩිපුර බලා ඉන්නකොට තමන්ගේ නෝනා ලස්සන නෑ, අල්ලපු ගෙදර නෝනා ලස්සනයි. ඊටපස්සෙ වැට පැන්නා. වැරදි කාමසේවනය කියන එක ඇතිවුනා. පින්වත් මහණෙනි, යම් දවසක වැරදි කාමසේවනය ඇතිවුනාද, ඒ වැරදි කාමසේවනය කරන අයගේ දරු පරම්පාරවට ඔවුන්ගේ ආයුෂ වලින් භාගයක් අඩු වුනා. ඔවුන්ගේ ආයුෂ අවුරුදු පන්දාහක් වුනා. මහළුවුන් වැරදි කලේ, දරුවන්ට බලපෑවේ. ඒ නිසා අද කාලෙ වුනත් සමාජයේ වැරදි කාමසේවනය ආදී නරක වැඩ සල්ලාල වැඩ දෙමව්පියො කරනවා නම් දරුවන්ට ඒක බලපානවා. දරුවන්ට ඒ හැටි කාලයක් මිහිමඩලෙ ඉන්න බෑ, තමනුත් නිරයට යනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා ඔන්න අවුරුදු පන්දහසක් වෙච්ච කාලයේ මනුස්සයන්ගේ අතරෙ දරුණු වචනයන්ගෙන් බැන වැදීමත් හිස් වචන කීමත් ඇතිවුනා. දරුණු වචනයෙන් බැන වැදීම, හිස් වචන. දරුණු වචනයෙන් බනිනවා කියන්නෙ සැරයි. හිත කැපිලා යනවා වචනෙට. සැර වචන ගන්නවා. පින්වතුනි සැර වචන කතා කරනවා කියන්නෙ, හිත රිදෙන වචන කතා කරනවා කියන්නෙ අනිත් එක්කෙනාගෙ කට ලොප්වෙන වචන කතා කරනවා කියන්නෙ අනිත් එක්කෙනා විසිවෙන වචන කතා කරනවා කියන්නෙ පුදුම පාපයක්. සැර. පුදුම පාපයක්. ඉතින් ඒ සැර වචන කතා කිරීමත්, හිස් වචන ඔහේ වල්පල් දොඩවා දොඩවා ඉන්න එකත් ලෝකෙ පහළ වුනාද, ඔවුන්ගේ දරුවන්ට අවුරුදු පන්දාහක් තිබ්බ ආයුෂ දෙදහස් පන්සීය හෝ දෙදහ බවට පත්වුනා කියනවා. එහෙනම් කොහොම වෙයිද. අනේ සැර වචන කතා කරන්නැතිව, හිත් රිදෙන වචන කතා කරන්නැතිව පාඩුවෙ අපිට ඉවසගෙන ඉන්න ඇත්නම් කොච්චර හොඳ ද. අල්ලාප සල්ලාප නිකං ඔපාදූප හිස්වචන මේ අද කාලෙ ටීවී එකක් ගත්තත් කැසට් එකක් ගත්තත් බණ පදයක් හැරෙනකොට තනිකර අල්ලාප සල්ලාප හිස් වචනනෙ. දැන් පහුගිය කාලෙ සමහර ඔය එක එක හඬපට කියලා කෑකොස්සන් ගහගෙන හිටියා හැම ගෙදරකම කතා වුනා අල්ලාප සල්ලාප හිස් වචනනෙ. ඉතින් මිනිස්සුම එවුන් ආපහු පාර්ලිමේන්තු යවනවා. එතකොට අර මොකක්ද අර කලින් කතා කරපු එකේ තියෙන අර්ථය. හිස් වචන. මේ නින්දා කරනවා. මේ ඉහළින් පිළිගෙන මල්මාලා දානවා. මොකක්ද ඇති වැඩේ. හිස් වචන. ඉතින් හිස් වචන කියනකොට සැරපරුෂ වචන කියනකොට ඒ අයගේ ආයුෂ අඩුවෙලා ගියපු හැටි

දැක්කද. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කලා පින්වත් මහණෙනි, මේ විදියට ප්‍රාණඝාතය හොරකම, අවිආයුධ ගැනීම, බොරුව, කේලම, සැරපරුෂ වචන, හිස් වචන, ලෝකයේ වැඩි වෙවී වැඩි වෙවී යනවාද, පින්වත් මහණෙනි, යම් දවසක මේ මනුෂ්‍යයන්ගේ හිතේ අවුරුදු දෙදහස් පන්සීයක් කාලෙ මිනිස්සු අතර අනුන් සතු දේ තමන්ගේ කර ගැනීමේ ආශාව වැඩිවුනා. ඒකට කියනවා අභිජ්ජාව. තව ලස්සන නෝනා කෙනෙක් දැක්කම හිතෙනවා අනේ මට හිටියා නම් මෙහෙම නෝනා කෙනෙක්. එහෙම හිතන එක පව් සිද්ධවෙන එකක්. ලෝභෙත් එක්ක එන්නෙ පෙරේතකම. අර ඉඩම මට තිබ්බා නම්, අර වාහනේ මට තිබ්බා නම්. මෙහෙම දරුවො මට හිටියා නම් කියලා ලෝභය රාගය ඉරිසියාව ආදී දේවල් මුල් කරගෙන හටගන්නවා. අභිජ්ජාව, දැඩි ලෝභය. තමාට ඇත්තෙත් නෑ. මසුරු කම. ඊටපස්සෙ මේවා අභිජ්ජාවත් ඊළඟට අවිද්‍යාවත් දැඩි ලෝභයත් අනුන් සතු දේ තමන්ගේ කරගැනීමේ ආසාව ද්වේෂය, ව්‍යාපාදයත් ජීවිතේ වැඩිවෙන්න වැඩිවෙන්න තරහ යන එක වැඩියි. හොස්ස ළඟින් මැස්සා යන්න බෑ, ආන්න මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු දාහක් බවට පත්වුනා. අවුරුදු දෙදහස් පන්සීය දාහට අඩුවුනා. ඊළඟ පරම්පරාව. ඊළඟට මොකද වුනේ, ඒ පරම්පරාවෙන් අවුරුදු දාහක් වෙලා තියෙනකොට ආයුෂ මිනිස්සු අතර මිත්‍යා දෘෂ්ටිය වැඩිවෙලා ගියා. අම්මා තාත්තා ගැන සැළකිල්ලක් නෑ, පින් පව් විශ්වාස කරන්නෑ. බුදුවරු ගැන විශ්වාසයක් නෑ, මෙලොවක් පරලොවක් ගැන විශ්වාසයක් නෑ. මිත්‍යා දෘෂ්ටිය. දැන් අම්මා තාත්තා ගැන විශේෂයක් නෑ කියන්නෙ අපි වුනත් වචන කතා කරද්දි මේ අම්මා, අම්මා ඉන්නවානෙ, තාත්තා ඉන්නවා කියලා අපේ ජීවිතේ යම් සංවර බවක් එනවානෙ. ඒ හේතුව අපි අම්මට තාත්තට විශේෂ තැනක් දීලා තියෙනවා. ඒනිසා යාළුවො ඉන්න තැන්වල කතා කරන විදියට, හැසිරෙන විදියට අම්මලා තාත්තලා ළඟ හැසිරෙන් නෑ, ඒක එයාගෙ ජීවිතේ අත්ති මාතා අත්ති පිතා, අම්මා තාත්තා කියලා විශේෂයක් තියෙනවා. අද කාලෙ යාළුවො ඉන්න තැන්වල කතා කරන විදියයි, දෙමව්පියො ඉන්න තැන්වල කතා කරන විදියයි එකම කෝප්පෙන් තාත්තත් බොන්නෙ, පුතත් බොන්නෙ, අම්මත් බොන්නෙ, දුවත් බොන්නෙ, එකම සින්දුවට අම්මත් නටනවා, දුවත් නටනවා, පුතත් නටනවා, තාත්තත් නටනවා, ඔක්කොම තියෙ දහඅට සන්නියම නටනවා. එතකොට හිතන්න, එතකොට අම්මා තාත්තා කියලා විශේෂයක් නෑ. මිත්‍යා දෘෂ්ටිය. මෙලොවක් පරලොවක් විශ්වාස කරන් නෑ. මිත්‍යා දෘෂ්ටිය. ඊටපස්සෙ මිත්‍යා දෘෂ්ටිය නිසාම අවුරුදු දාහක් ආයුෂ තිබ්බ මිනිස්සුන්ගේ

ආයුෂ අවුරුදු පන්සීයට අඩුවුනා. අවුරුදු පන්සීයට අඩු වුනාට පස්සෙ අවුරුදු පන්සීයක් කාලෙ මිනිස්සුන්ගේ ජීවිතයේ පාපධර්ම තුනක් බලපවත්වන්න ගත්තා. ඔන්න අපේ ආයුෂ අඩුවෙච්චි විදිය මේ කියන්නෙ. අධර්ම රාගය. අධර්ම රාගය කියන්නෙ රාගය හටගන්න, හටගැනීමක් මනුෂ්‍යයාගේ තියෙනවානෙ. ඒ රාගය හටගන්නෙ ස්වාමියාට බිරිඳ ගැන. බිරිඳට ස්වාමියා ගැන. කවදාවත් දරුවෙකුට දෙමව්පියො ගැන, අම්මා ගැන, තාත්තා ගැන, ලොකු අම්මා ගැන, පුංචි ගැන, ඊළඟට ආච්චිලා සීයලා ගැන රාගය හටගන් නෑ. එතකොට අවුරුදු පන්සීයක් වෙච්චි කාලෙ ඒ අය ගැන රාග හිත එනවා. ගරු කල යුතු තැන රාග හිතෙනවා. ඒකට කියනවා අධර්ම රාගය කියලා. විෂම ලෝභය කියන්නෙ, ලෝභය කියලා එකක් මනුස්සයින්ගේ හිතේ තියෙනවා. ලෝභය ඉක්මවා ගිය පෙරේතකමක් එනවා. විෂම ලෝභය කියන්නෙ. දැන් බලන්න ඒ කාලෙ මිනිස්සුන්ගේ හිත් තුළ රාගය ඉපදුනා, ලෝභකම ඉපදුනා, ඊටපස්සෙ කසාද බැන්දා, දරු මල්ලො හැදුවා. ඉවරයි. අද වෙනකොට, දැන් මේ පාරක් පාරක් ගානෙ, හන්දියක් හන්දියක් ගානෙ රූම් රූම් කියලා මොනවද මේ තියෙන්නෙ. හොටෙල් වෙනම තියෙනවා, ඊළඟට තේ බොන්න වෙනම තැන් තියෙනවා, නවාතැන් කියලා වෙනම තැන් තියෙනවා, ගිමන්හල් කියලා වෙනම තැන් තියෙනවා, ආපනශාලා කියලා වෙනම තැන් තියෙනවා, රෙස්ටොරන්ට් කියලා වෙනම තියනවා, එක එක දේවල් තිබිලා ඒ අස්සෙත් හන්දියෙන් හන්දියට රූම්ස් රූම්ස් කියනවා. මිනිස්සුන්ගෙ හිත් වල තියෙන පෙරේතකම් වලට සීමාවක් නෑ. මිනිස්සුන්ගේ හිත් වල ලෝභයක් තියෙනවා තමයි, ලෝභය ඉක්මවා ගිය පෙරේතකමක් උපදිනවා. ඒකට කියනවා විෂම ලෝභය. ඊටපස්සෙ තියෙනවා මිත්‍යා ධර්ම. මිත්‍යා ධර්ම කියලා කියන්නෙ, මේ ලෝකයේ පිරිමින්ට පිරිමි ගැන රාගය උපදිනවා. කාන්තාවන්ට කාන්තාවන් ගැන රාගය උපදිනවා. මිනිස්සුන්ට සත්තු ගැන රාගය උපදිනවා. මිනිස්සුන්ට බාහිර උපකරණ ගැන රාගය උපදිනවා. කියන්නෙ ගහක් කොළයක හැඩයක් දැක්කත්, බාහිර වස්තුවක හැඩයක් දැක්කත් හිතෙන් රාගික සංකල්පනාවක් ගොඩනගා ගන්නවා. ඒකට කියනවා විෂම මිත්‍යාධර්මය කියලා. පින්වත් මහණෙනි, මේ මිත්‍යා ධර්මය මනුෂ්‍යයන්ගේ හිත් වල පහළ වුනාද, ආන්න එදාට මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු පන්සීයේ තිබ්බ ආයුෂ අවුරුදු දෙසියට, එහෙම නැත්නම් දෙසීය පනහට අඩුවුනා. පින්වත් මහණෙනි, දෙසිය වසරක් ආයුෂ ඇති මිනිස්සුන්ගේ මේ කරුණක් පහළ වුනා. මව්ට සළකන් නෑ, පියාට සළකන් නෑ. ශ්‍රමණ බ්‍රාහ්මණයන්ට සළකන් නෑ, ගුරුවරුන්ට සළකන් නෑ. ගරු

කරන් නෑ. ඔන්න අම්මට තාත්තට සළකන් නෑ, ශ්‍රමණ බ්‍රාහ්මණ වරුන්ට සළකන් නෑ. ගුරුවරුන්ට සළකන් නෑ. මේක පහළ වෙච්චි ගමන් දෙසිය පනහක් අවුරුදු දෙසියයක්, දෙසියපනහක් ආයුෂ තිබ්බ අයගේ ආයුෂ අවුරුදු සීයට අඩුවුනා. කොහොමද අකුසල් පහළ වෙච්චි හැටි. අම්මා තාත්තා කියලා කිසිම නෑ ඒ ගැන හැඟීමක්. ඔහේ පැත්තකට දානවා. දෙමව්පියො ගැන හැඟීමක් නෑ. එතකොට මේ වැඩිහිටි ශ්‍රමණ බ්‍රාහ්මණයන්ට, කුලදෙටුවන්ට, තමන්ට උගන්නපු ගුරුවරුන්ට සැළකීමක් නෑ, ඒ විදියට මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු සීයට අඩුවුනා. ඔය තමයි බුදුරජාණන් වහන්සේගේ කාලය වෙනකොට ආයුෂ අඩුවෙච්චි හැටි. බුදුරජාණන් වහන්සේ ඔය විස්තරයත් එක්ක ඒ අතීතයේ වෙච්චි විස්තර නවත්වනවා. නවත්වලා පින්වත් මහණෙනි, අනාගතයට වෙන්නෙ මෙහෙමයි. අනාගතයට මේ සත්ත්වයන්ගේ ආයුෂ අවුරුදු දහයට අඩු වෙනවා. අඩු වුනාට පස්සේ මෙහෙමයි වෙන්නෙ මෙහෙමයි වෙන්නෙ කියලා බුදුරජාණන් වහන්සේ අනාගත වංශ කතාව වෙනම දේශනා කලා මේ සූත්‍රයේම. මම හිතනවා අපි ඒක ඊළඟ දවසෙ ඉගෙන ගනිමු කියලා. එතකොට අපි ඊළඟ දවසේ අනාගත කතාව ඉගෙන ගනිමු. දැන් බලන්න අවුරුදු සීයක් දක්වා ආයුෂ පිරිහුනේ අවුරුදු අසූදාහේ තිබ්බ ආයුෂ අවුරුදු සීයක් දක්වා අඩුවුනේ ගුණධර්ම වල පිරිහීම නිසාමයි. මිනිස්සුන්ගේ හිත් කිලිටි වීම නිසාමයි. එහෙනම් අපේ හිත් වල ක්ලේශ අකුසල් පව් හටගන්නවා නම් ඒවා නිසා තමයි මිනිස්සුන්ගේ ආයුෂ අඩු වෙලා අඩු වෙලා ගිහිල්ලා ඊළඟ පරම්පරාවට ඒක බලපෑවෙ. එහෙනම් මේ දැන් කියන අකුසල් පව් ක්ලේශ දස අකුසලයො මිනිස්සු වපුරනවා කියන්නෙ අනිවාර්යයෙන් ඊළඟ පරම්පරාවලට අද කාලෙ මිනිස්සු වපුරන පාපය භුක්ති විඳින්න වෙනවාමයි. ඒ කියන්නෙ විස සහිත බීජ දැන් ඉන්න අය වැපිරුවට පස්සෙ භක්ති විඳින්නෙ ඊළඟ පරම්පරාව. ආයුෂ අඩුවෙන්නෙ ඒ අයගෙ. වපුරන්නෙ දැන්. ඒ වගේ ඔයාලගේ දරුවන්ගේ ආයුෂ වර්ණය රූප ස්වභාව පවා නැති කරලා දානවා දෙමව්පියන්ගේ ක්‍රියාවල් නිසා. ඒ නිසා දැන් බලන්න අපි අග්ගඤ්ඤ සූත්‍රයේ ලෝකය හැදෙන හැටි කතා කලා. දැන් ආයුෂ පින්වතුනි සාමාන්‍යයෙන් බුදුරජාණන් වහන්සේ නමකගේ ඉඳලා ඊළඟ බුදුරජාණන් වහන්සේ දක්වා ආයුෂ මේ විදියට අසංඛෙය්‍යට වැඩි වෙලා ආයෙ අවුරුදු දහයට අඩු වෙලා, ආයෙ අසංඛෙය්‍යට වැඩිවෙලා ආයෙ අවුරුදු දහයට අඩු වෙලා ඔහොම තමයි මේ ලෝකෙ යන්නෙ ආයුෂ. මේ බුදුරජාණන් වහන්සේ දල්ලනීනි රජ්ජුරුවන්ගෙ විස්තරයෙන් පටන් ගත්තෙ, මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු අසූදාහෙ ඉඳලා අඩු වෙන කාලෙ. සාමාන්‍යයෙන්

බුදුවරු ලෝකෙ පහළ වෙන්නෙ ආයුෂ අඩු වෙන කාලෙට. ඊළඟට සාමාන්‍යයෙන් බුදු කෙනෙක් ලෝකෙ පහළ වෙන්නෙ අනිවාර්යයෙන් අවුරුදු අසූදාහෙන්. අසූදාහකට එහා බුදුවරු පහළ වෙන් නෑ. ඊළඟට අනිවාර්යයෙන් බුදු කෙනෙක් පහළ වෙනකොට මව් කුසේ පිළිසිඳ ගන්නකොට මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු සීයට අඩු වෙන්න බෑ, මොකද අවුරුදු සීයට අඩු කාලෙ අවුරුදු පනහ හැට තියෙන කාලෙ බණ පද හිතට යන් නෑ, බුදු කෙනෙක් පහළ වෙලා ධර්මය දේශනා කලත් ආයුෂ අඩු වෙනකොට හිතට යන් නෑ ධර්මය. එහෙනම් අද කාලය ගැන කවර කතා ද. අපි මේ බණ ටිකක් වත් කියන්නෙ කොච්චර දුෂ්කර තැනක ඉඳලද. අද කාලෙට මේ බණ පද සුදුසු ද කියලා හිතෙනවා. අද කාලෙට මිනිස්සු මේ බණ පද තේරුම් ගනියිද කියලා හිතෙනවා. ඔන්න ඕක තමයි අපි අද දක්වා වෙනකොට ලෝකෙට වෙච්චි නස්පැත්තිය. එහෙනම් අනාගතේට මොකක්ද වෙන්නෙ, කොහොමද අනාගතේ බුදුවරු පහළ වෙන්නේ කියලා අපි ඊළඟ දවසේ තේරුම් ගනිමු. මේ සියලු අලකලංචි මැදින් අපිට නම් පිහිටක් හදාගන්න තියෙන්නෙ බුදුරජාණන් වහන්සේ සරණ ගියොත්මයි. ශ්‍රී සද්ධර්මය සරණ ගියොත්මයි. ආර්ය මහා සංඝරත්නය සරණ ගියොත්මයි. ඒ නිසා දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු උතුම් ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. කුසල් සමාදන් වෙන්න, අඩුපාඩු හදාගන්න. දොස් හදාගන්න. ඒවාගේ ආනිසංස ඔයාලගේ දරුවන්ටත් භුක්ති විඳින්න ලැබෙනවා. ඒ නිසා ඒ අසිරිමත් සම්බුදු සරණ තුලින් අපි දුකින් නිදහස් වේවා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සඳහා දායකත්වය දැරුවේ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් දුෂානි ලියනආරච්චි දියණිය. සැප්තැම්බර් මස 4 වන, 13 වන, 16 වන දින යෙදුනු තමන්ගේ උපන්දින පවුලේ අයගේ වෙනුවෙන් මේ ධර්මදානය සිද්ධ කළේ. ඉතින් මේ ධර්ම දානයේ පින් බලයෙන් ඒ පින්වත් දුෂානි ලියනආරච්චි ඇතුලු ඒ පවුලේ සියලුම දෙනාට නිදුක් නිරෝගී සුවපත් භාවයත්, ඒ වගේම බුද්ධ ශාසනේ පිහිටත් ඒකාන්තයෙන්ම සැලසේවා. ඒ වගේම රැස් කරගන්න යෙදුනා වූ සියලු පින්, පින් කැමැති දෙවියෝ අනුමෝදන් වෙත්වා. මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. මියපරලොව ගිය ඥාතීන් අනුමෝදන් වේවා, පරලොව සැපයට පත්වේවා. ඒ වගේම ගෞතම බුද්ධ ශාසනයේ මෙවැනි වූ ධර්මයක් අපි

කාටත් අහන්න සළස්වන්නෙ, ඉගෙන ගන්න සළස්වන්නෙ, අපිට පිහිට සැලැස්සුවේ අපේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂම ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු ගරුතර මහා සංඝරත්නය, අනගාරිකා මැණිවරු, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ධර්මාවබෝධය පිණිස මේ පින් හේතු වේවා. ඒ වගේම මේ පින්වතුන්ගේ මහරගම පදිංචි දෙමව්පියන්ට සහ සහෝදර සහෝදරියන්ට මේ පින් අනුමෝදන් වෙත්වා, නිදුක් නිරෝගී සුව සැලසේවා. ඔබ අප කාටත්, මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත්, ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන්විදුලියේ ධර්මය ශ්‍රවණය කරන ඒ වගේම කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට අපි කාටත් කුසල් දහම් සමාදන් වී උතුම් තිසරණයේ පිහිට පිළිසරණ ලබාගනිමින් බුද්ධ ශාසනයේ සැනසෙන්න දුක් කෙළවර කරගන්න මේ පින් ඒකාන්තයෙන් හේතු වාසනා වේවා. අසිරිමත් සම්බුදු සරණේ පිහිට ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=0hTeRzE5hbk&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=88

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන අපි දැන් මේ සිද්ධ කරන්නෙ. අද උතුම් මේ ශ්‍රී සද්ධර්මය ඔබට ශ්‍රවණය කරන්න සලස්වන්නේ ශ්‍රද්ධා රූපවාහිනියෙනුත්, ලක්විරු ගුවන් විදුලියෙනුත් වෛද්‍ය මිථිලා කුලතුංග මහත්මිය සහ වෛද්‍ය පවන බණ්ඩාර මහත්මයා විසින්,

දායකත්වය දරන්නෙ. අද දවසේ ධර්ම දේශනාව විදියට අපි අනාගත වංශ දේශනාව කරන්නෙ. කියන්නෙ මෙතනින් පස්සෙ අනාගත ලෝකෙට කුමක් වේවිද. මෛත්‍රී තථාගත අර්හත් සම්මාසම්බුදුරජාණන් වහන්සේ කෙසේ නම් ලෝකයේ පහළ වන්නේද. මේ උතුම් අනාගත වංශ දේශනාව මේ ලෝක සත්ත්වයාට අහන්න සැලැස්වීමේ පින මේ පින්වතුන් විසින් අද දවසේ රැස් කරගන්නවා. ඒ ගැන හිතලා සන්තෝෂයට පත්වෙන්න. ඉතින් පින්වත්නි අපි මීට කලින් වැඩසටහනේ කතා කලේ චක්කවත්තී සීහනාද සූත්‍රයේ මුල් කොටස. ඒ කියන්නෙ අවුරුදු අසූදාහක් ආයුෂ තියෙන කාලෙ කොහොමද මේ අවුරුදු සීයට ආයුෂ අඩුවුනේ කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි අත්තදීපා භික්ඛවෙ විහරථ අත්තසරණා අනඤ්ඤසරණා, තමා තමාට දූපතක් කරගන්න. තමා පිළිසරණ කරගන්න, වෙන සරණක් කරගන්න එපා. ධර්මය දූපතක් කරගන්න, ධර්මය සරණ කරගන්න, වෙන සරණක් කරගන්න එපා. කෙසේද එය කරන්නෙ. එය මේ සතර සතිපට්ඨානයයි. සතර සතිපට්ඨාන - කායානුපස්සනා, වේදනානුපස්සනා, චිත්තානුපස්සනා, ධම්මානුපස්සනාව යම්කිසි කෙනෙක් මනාව වඩනවා නම් ඒක තමයා තමා සරණ කරගැනීම, ධර්මය සරණ කරගැනීම, පිහිට කරගැනීම, වෙන සරණක් කර නොගැනීම. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා තමන්ගේ තාත්තාගේ උරුමයේ වාසය කරන්න. සතර සතිපට්ඨානයේ. එතකොට මාරයාට ඔබව ග්‍රහණය කරගන්න බෑ. කුසලානං ධම්මානං සමාදාන හේතු ඒව මේතං පුඤ්ඤං පවඩ්ඪති, පින්වත් මහණෙනි කුසල් දහම් සමාදන් වෙනකොට බොහෝ පින් වැඩෙනවා. ඇත්තටම ගත්තොත් මේ බුද්ධ ශාසනයේ සියලු පින් උපද්දවන්න පුලුවන් සතර සතිපට්ඨානයට. ඒ කුසලයෙන්, සමාදන් වීමෙන්. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා අතීතයේ වැඩ හිටියා දල්ලමේව කියලා රජ කෙනෙක්. ඒ රජතුමා මුළු ලෝකෙටම අධිපති වෙලා සක්විති රජ වෙලා මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු අසූදාහක් කාලෙ. සක්විති රජ්ජුරුවො කිව්වා තමන්ගේ සක්විති මැණික වෙනස් වුනොත් ඇවිල්ලා කියන්න කියලා රාජ පුරුෂයන්ට. සක්විති මැණික වෙනස් වුනා. රජ්ජුරුවො පුතාට කිව්වා මාගේ ආයුෂ දැන් අඩුයි. ඒකයි සක්විති මැණික වෙනස් වුනේ. මං පැවිදි වෙනවා. පුතාට රජකම දීලා පැවිදි වෙලා හත් දවසක් යනකොට මැණික අතුරුදහන් වුනා. තාත්තා පුතාට සක්විත් වත් කියලා දුන්නා. ඒ සක්විති වත් පුරපු පුතා ආපහු සක්විති රජ බවට පත්වුනා, මැණික පහළ වුනා. ඒ විදියට පරම්පරා හතක් ගියා. හත්වෙනි පරම්පරාව ඉවරවෙනකොට ඊළඟ පුතා මැණික අතුරුදහන් වුනාට පස්සෙ ඒක හෙව්වෙ

නෑ, හිතුමතේ රට පාලනය කලා. රටේ දියුණුව නැතිවුනා. ඊටපස්සෙ මෙයා උපදෙස් ගත්තේ දොරටුපාලකයන්ගෙන්, ඇමැතිවරුන්ගෙන්. මෙතෙක් උපදෙස් ගත්තෙ රාජ ඍෂීන් වහන්සේලාගෙන්. ඊටපස්සෙ ඔන්න මෙයා ඒ උපදෙස් අරන් රට පාලනය කලා හැබැයි දුප්පතුන්ට ධනය දුන් නෑ. ඒ නිසා දුප්පතුන් වැඩි වුනා. ජීවත් වෙන්න ක්‍රමයක් නැතිව හොරකම් කලා. ඔන්න ලෝකෙ ඉස්සෙල්ලාම හොරකම පහළ වුනා. හොරකම් කරන අය අහුවුනාට පස්සේ රජ්ජුරුවො ඇහුවා එහෙම කලාද, ඔව්. ඇයි ඒ, ජීවත් වෙන්න ක්‍රමයක් නෑ. භාණ්ඩාගාරයෙන් ධනය දුන්නා, අණ්ඩඇල්ලීම. ඊටපස්සෙ මොකද වුනේ රජතුමා දැන් මේක කියනකොට මට මතක් වෙනවා කූටදන්ත, කූටදන්ත සූත්‍රයේ මහාවිජිත රජ්ජුරුවො කලේ දුප්පත් මිනිස්සුන්ට ධනය නෙවෙයි දුන්නෙ. ගොවිතැන් කරන අයට වී දුන්නා. ඒ වී වපුරන කාලෙට බත්වැටුප් දුන්නා. මිනිස්සු තුළින්ම මිනිස්සු පෝසත් කලා. රස්සාවල් නැති අයට රස්සාවල් දුන්නා. එහෙම තමයි මහාවිජිත රජ්ජුරුවො කලේ. මේකෙ වුනේ හොරකම් කිරීමට විසඳුමක් විදියට ධනය දුන්නා. ඊටපස්සෙ ආරංචියක් ගියා හොරකම් කරන අයට ධනය දෙනවා කියලා, මිනිස්සු එකදිගට හොරකම් කලා. රජ්ජුරුවො මේක වළක්වන්න විදියක් නැතිව මරලා දැම්මා එකෙක්. එතකොට හොරු කල්පනා කලා අපි අහුවුනොත් රජතුමාට, මැරෙනවා. ඊට කලින් අපේ කවුරුහරි අපි හොරකම් කලා කියලා කියනවාද, උන්ව අපි මරමු කියලා ආයුධ හදාගෙන හොරු විසින්ම ඒ අයිතිකාරයො මරලා හොරකම් කලා. මේ විදියට මනුස්ස ඝාතනය ආවා. අවුරුදු අසූදාහක් ආයුෂ හතළිස්දාහට අඩුවුනා. හොරකම, ඊළඟට ආයුධ ගැනීම, ප්‍රාණඝාතය. ඊළඟට හොරු අහුවුනා. හොරු කිව්වා අපි කලේ නෑ, මරණ බයට බොරු කිව්වා. හතළිස් දාහ විසිදාහට අඩු වුනා. ඊටපස්සෙ හොරකම් කරන අය ඔහොම බොරු කියනකොට තව අය හොරකම් කරන අය හොරෙන් බලාගෙන ඉඳලා රජ්ජුරුවන්ට ගිහිල්ලා ගතු කිව්වා, කේලම් කිව්වා. විසිදාහ දහ දාහට අඩුවුනා. එතකොට මනුස්සයන්ගේ ලස්සන කැත පේන්න ගත්තා. එතකොට වැරදි කාමසේවනයේ යෙදුනා. එතකොට දහදාහ පන්දාහට අඩුවුනා. ඊටපස්සෙ ඒ අතරතුර මිනිස්සු සැරට කතා කරනවා, ඇයි ඒ වැරදි කාමසේවනය අහුවෙච්චි ගමන් මිනිස්සු එනවනෙ තෝ මොකක්ද මේ කලේ කියලා සැරට කතා කරගෙන. ඊළඟට කට්ටිය එකතු වුනාම අර ගෑණි මෙහෙමයි, මේ ගෑනි මෙහෙමයි කියලා හිස් කතා වෙනවානෙ. එතකොට හිස් කතාව ඇතිවෙනකොට අවුරුදු දහදාහකට තිබ්බ ආයුෂ පන්දාහකට අඩුවුනා. ඊටපස්සෙ තරහ යන එක වැඩි වුනා. ඊටපස්සෙ ලෝභය

වැඩිවුනා. ඊටපස්සෙ ආයුෂ අඩුවුනා දෙදාස් පන්සීයට. ඊටපස්සෙ මිත්‍යා දෘෂ්ටිය වැඩිවුනා. අවුරුදු දාහට අඩුවුනා. ඔය විදියට මේ මනුස්සයන්ගේ ආයුෂ අඩු වෙලා අඩු වෙලා තව කාලයක් යනකොට මිනිස්සුන්ගේ විෂම ලෝභය, මිත්‍යා ධර්මය, අධර්ම රාගය ඉපදුනා. ඊටපස්සෙ මිනිස්සුන්ගේ ආයුෂ දෙසිය පනහට අඩුවුනා. ඊටපස්සෙ මවට සළකන් නෑ, පියාට සළකන් නෑ. ශ්‍රමණ බ්‍රාහ්මණයන්ට සළකන් නෑ. අවුරුදු සීයට අඩුවුනා. ඕන්න ඕක තමයි අපි මීට කලින් කතා කරමින් හිටියෙ. එතකොට ඔය මම කෙටියෙන් සිහිපත් කලේ චක්කවත්තී සීහනාද සූත්‍රයේ මුල් කොටස. ඒක අපි මීට කලින් වැඩසටහනේ සවිස්තර කතා කලා. අපේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහල වෙනකොට මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු සීයයි. උපරිම අවුරුදු එකසිය විස්සයි. ඔය කාලෙ වෙනකොට ගොඩාක් ලෝකෙ මිනිස්සුන්ගේ ක්ලේශ ඇතිවෙලා. සම්මා සම්බුදුවරු ලෝකෙ පහළ වෙන්නෙ අවුරුදු අසූදාහට අඩුවෙන්. අවුරුදු අසූදාහට වැඩියෙන් අසංඛෙය්‍ය ගණන් ආයුෂ තියෙන කාලෙ මිනිස්සුන්ට ආදීනව ප්‍රකට වෙන් නෑ. ඒ නිසා ධර්මය අවබෝධ වෙන් නෑ. අවුරුදු සීයට වැඩිය අඩුව, අවුරුදු හැට හැත්තෑව, පනහ, අද කාලෙ ආයුෂ ඒ කාලෙ බුදුවරු පහළ වෙන් නෑ, මොකද කෙලෙස් උග්‍රයි. කිදා බැහැලා තියෙන්නෙ. දහම පිහිටන් නෑ. අවවාද පිහිටන් නෑ. මේ අහනවා මේ අමතක වෙනවා, මිනිස්සුන්ගේ ආයුෂ අඩුවුනාම. ඒ කාලයේ ලෝකයේ බුදුවරු පහළ වෙන්නේ නැත. අපි ඉතුරු කොටස අද කතා කරන්නෙ. මේ තමයි අනාගතේට වෙන දේ. මහණෙනි, මේ මිනිස්සුන්ට, භවිස්සන්ති භික්ඛවෙ අනාගත මද්ධානා, අනාගතේ කාලයක් එනවා පින්වත් මහණෙනි, අවුරුදු දහයට මිනිස්සුන්ගේ ආයුෂ අඩුවෙනවා. ඒ අවුරුදු දහයට මිනිස්සුන්ගේ ආයුෂ අඩුවුනාට පස්සෙ අවුරුදු පහෙන් තමයි දරුවො කසාද බඳින්නෙ. අවුරුදු පහ වෙනකොටම දරුවො වදනවා. ඊටපස්සෙ පින්වත් මහණෙනි මේ අකුසල් වල උග්‍ර වුනාම හැටි බලන්න, ලෝකයේ රස අතුරුදහන් වෙනවා. එනම් ගිතෙල් රස අතුරුදහන් වෙනවා. එළඟී තෙල් රහ අතුරුදහන් වෙනවා. ඇත්තටම අපි පුංචි කාලෙ එළඟී තෙල් වල ආපු සුවඳ දැන් එළඟිතෙල් වල එන් නෑනෙ. බුද්ධ කාලෙ තිබ්බ එළඟී තෙල් කොහොමද කියලාවත් මට නම් හිතාගන්න අමාරුයි. වෙඬරු රස අතුරුදහන් වෙනවා. තලතෙල් රහ අතුරුදහන් වෙනවා. මී පැණි රහ අතුරුදහන් වෙනවා. ලෝකයේ මී පැණි කියලා ජාතියක් නැතිව යනවා. අවුරුදු දහය වෙනකොට, මීපැණි රහ නෑ. පැණි රසත් ලෝකෙන් අතුරුදහන් වෙලා යනවා. ඊටපස්සෙ ලුණු රසය ලෝකයෙන් අතුරුදහන් වෙලා යනවා. ලුණු

ලෝකෙ, ලුණු රහ අතුරුදහන් වෙලා යනවා. දැන් අද කාලෙ බලන්න අපි පුංචි කාලෙ ලුණු ව්‍යංජන වලට ලුණු දානවා අපි දැකලා තියෙනවා පොඩ්ඩයි දාන්නෙ. දැන් මේක සර සර ගාලා දානවා ලුණු රහ එන් නැනෙ. මේ ලෝකෙ කාලයක් - දැන් නම් කිලෝ දෙකක් දාලා හරි ලුණු රහ ගන්නවානෙ. අනාගත කාලයක් එනවා මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු දහයට අඩු වුනාම ලුනු කියන එක ලෝකෙ නෑ. ලුණු රස නෑ. ඊටපස්සෙ මහණෙනි, දස වසක් ආයු ඇති කාලෙ මිනිසුන්ගේ ප්‍රධානම ආහාරය වෙන්නෙ කුරහන්. කුරහන් තලප කාලා තියෙනවාද, වයසක සීයලා ආච්චිලා කන්නෙ සීනි අමාරුවට කන්නෙ. එතකොට සාමාන්‍යයෙන් කවුරුත් කන්නෙත් නෑ ඒක රහත් නෑ, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා බුද්ධ කාලයේ ඇල් හාලේ බත් වලට රසමසවුළු ප්‍රණීතව කනවාද ඒක අග්‍රයි ද, ඒ වගේ අවුරුදු දහයක් කාලෙ මිනිස්සුන්ගේ රසම කෑම බවට පත්වෙන්නෙ කුරහන් තලප. හැබැයි මතක තියාගන්න ලුණු රහ නෑ. පැණි රහ නෑ. ලුණු රහ, පැණි රහ, තෙල් රහ, නැති කුරහන් තලප. ප්‍රධාන ආහාරය වෙන්නෙ. මේවා තමයි අනාගතයට වෙන්නෙ. මේ මිනිස්සු අනාගතේට වෙනවා කියන්නෙ කාර් අහසින් යනවා, ආකාසෙ කඩ හදනවා. ඒවනෙ මිනිස්සු, ඒ මොනවද, අවුරුදු සිය ගණනක ඉදිකිරීම්, දියුණුව එක මොහොතින් බිමට සමතලා විය නොහැකිද. ඔබට ලෙබනන් සිද්ධිය මතක නැද්ද. අවුරුදු සිය ගණනක් හදපු නගරයක් විනාඩි දෙකකින් පොළොවට සමතලා වුනා. මොනවද මේ ගොඩනැගිලි. මේන්න මිනිස්සුන්ට වෙනදේ. ලෝකයේ රහ අතුරුදහන්. ඉතින් අද කාලෙත් වැඩිපුර බලන්න, පැණිරස තහනම් මිනිස්සුන්ට, තෙල් කෑම තහනම්, අද වැඩිය ලුණු කන්න එපා ප්‍රෙෂර් වැඩියි. දැන් දැන්ම මිනිස්සු හැදෙනවා නේද ලුණු අඩුවෙන මට්ටමට. දැන් දැන්ම මිනිස්සු හැදෙනවා නේද පැණිරහ අඩු මට්ටමට. බුද්ධ කාලෙ මිනිස්සු කොහොමද, ඒ කාලෙ මිනිස්සු කැවුම් කෑවානෙ ගෝනි ගණන්. මී වද පිටින් කෑවානෙ. කිසිම ලෙඩක් දුකක් නැනෙ. අවසානෙ සිද්ධ වෙන දේ මෙයයි. පින්වත් මහණෙනි, අවුරුදු දහයක් කාලෙට අඩුවෙනකොට දස කුසලොපතයෝ, දස කුසල් ලෝකෙන් අතුරුදහන්. සත්තු මරන් නැති එකෙක් හොයාගන්න නෑ, හොරකම් කරන්නෙ නැති එක්කෙනෙක් හොයාගන්න නෑ. වල් වැඩ කරන්නැති කෙනෙක් හොයාගන්න නෑ. බොරුවක් කියන්නැති කෙනෙක් හොයාගන්න, බෙහෙතකට හොයාගන්න නෑ, කේලම් හිස් වචන, පරුෂ වචන, මිත්‍යා දෘෂ්ටියෙන් පැතිරිලා ලෝකෙ. පින්වත් මහණෙනි, දස වසක් ආයු ඇති මිනිසුන් අතර කුසලය යන නමවත් දකින්න නොලැබෙන්නේය. කුසලය යන නමවත් නෑ. කෝපනවාදෝ, කුසල්

කරන එක ගැන කවර කතාද. ඒ කුසල් කියන වචනෙවත් නැතිකොට කුසල් කරනවා කියන එක කවර කතාද. මහණෙනි, දස වසක් ආයුෂ ඇති කාලයේ මවට සළකන් නෑ, පියාට සළකන් නෑ, ඒ කාලෙ වෙනකොට මවට පියාට ශ්‍රමණ බ්‍රාහ්මණයන්ට ගුරුවරුන්ට හරියට අඩන්තේට්ටම් කරනවා, කණට ගහනවා. පයින් ගහලා පන්නනවා පල ගෙදරින් කියලා. පින්වත් මහණෙනි මවට පියාට සළකන අයට මෙයා මව්ට සළකන කෙනෙක් පියාට සළකන කෙනෙක් කියලා සමාජයේ බොහෝ ගරු කරන්නෙ, ඒ වගේ එදාට දෙමාපියන්ට ගරහන කුලදෙටුවන්ට ගරහන, වැඩිහිටියන්ට ගරහන අයට මල්මාලා දාලා පිළිගන්නවා. දැන් අද තියෙන්නෙ ඔය දෙමව්පියන්ට දරුවන්ට එක තැන ඉදලා අහන්න බැරි කතා කියන අය කතිරෙ ගහලම පාර්ලිමේන්තුවට යවන ඒවා අද තියෙන්නෙ. ඕවා ඉදිරියට වැඩි වෙලා වැඩි වෙලා මව විනාශ කරන, පියා විනාශ කරන දරුවන්ටම සමාජයේ තැන දෙනවා කියනවා, ප්‍රධානියො කරනවා. මේ බුද්ධ වචනය. ඊටපස්සෙ පින්වත් මහණෙනි, දස වසක් ආයුෂ ඇති කාලයේ අනාගතයේ මේ මව, මේ පියා, මේ සොහොයුරිය, නැන්දණිය, මේ ගුරුවරිය, මේ ගරු කළ යුතු කෙනෙක් කියලා හැඟීම් ඇතිවෙන් නෑ, එළු බැටළුවො, කුකුලො ඌරෝ සිවල්ලු බල්ලො ඒ වගේ එකිනෙකා යහපත් කුලාචාර ධර්ම සිඳබිඳගෙන අසද්ධර්මයේ සිතුමනාපෙ යෙදෙනවා. කොහොමද. ගරු කළ යුත්තන් නෑ. දැන් අද පටන් ගත්තනෙ අද කාලෙ. ඉස්සර තිබ්බෙ නෑනෙ තමන්ගේ වයසින් වැඩිමහල් ගෑණු ළමයි වයසින් අඩු කොල්ලො කසාද බැන්දෙ නෑනෙ. අද හරියට තියෙනවානෙ. මාධ්‍ය සාකච්ඡාත් තියනවානෙ. ළඟදින් මහත්තයෙක් මාත් එක්ක ඇවිල්ලා කිව්වා ස්වාමීන් වහන්ස, අහම්බෙන් මං ෆේස්බුක් එකේ දැක්කෙ, ඒ ෆේස්බුක් පේජ් එක්ක ආරම්භ කරලා තිබ්බා කිව්වා තමන්ගේ මව් බිරිඳ කරගන්න කැමැති අය සම්බන්ධ වෙන්න කියලා, හාරදාහක් එකතු වෙලා තිබ්බා කිව්වා ඒකට. පහුවදා බලනකොට මෙයා අත්අඩංගුවට අරන් කිව්වා. දවසින් දෙකෙන් හාරදාහක් එකතු වෙලා, මේ සිංහලයො, තමන්ගේ අම්මා බිරිඳ කරගන්න. ඒකෙන් කියලා දෙනවා මෙහෙම කරන්න මෙහෙම කරන්න කියලා. කොහොම වෙයිද එළු බැටළුවො ඌරෝ බල්ලො කුකුළො ගානට. තුච්ඡ හීන දීන අසත්පුරුෂ අන්ධබාල බවට පත්වෙලා යනවා මේ සත්ත්වයා. පුදුම සහගතයි පින්වතුනි අපිට මේ බණ ටිකක්වත් අහන්න ලැබෙනවා. ඒ නිසා තම තමන්ගේ හිත් වල අලකලංචි ඇති. මොන මොනවාහරි අඩුපාඩු දෝෂ මිනිස්සුන්ගේ හිත්වල ඇති. අනේ ඒවා පසෙක තියලා බණ ටිකක්වත් අහන්න. පුළුවන් විදියටවත් රැකිලා ඉන්න මේ හුස්ම පොද තියෙන කල්. අවුරුදු දහයට

අඩු වූ තැන තිරිසන් සත්තු වගේ. ඊළඟට මේ තියෙනවානෙ ගුරුවරියන් ගැන, ආචායර්‍ය බිරිඳ, එතකොට ගුරුවරියන් ගැන, දැන් අද කාලෙ අපිට කොච්චර පැමිණිලි තියෙනවාද, ලියුම් එවනවානෙ ළමයි. ස්වාමීනී මගේ පංතියේ මගේ යාළුවා අපිට අහවල් විෂය උගන්වන ටීචත් එක්ක සම්බන්ධයක් තියෙනවා කියලා. අහවල් ළමයා ටීචත් එක්ක අහවල් කාමෙර්ට ගියා. මෙහෙමයි මෙහෙමයි කියලා අපිට කොච්චර එවනවාද. දැන්වත් ලියුම් වත් ඕන නෑ, මොකද දැන් එවන ලියුම් වල තියෙන්නෙත් කුණුහරුප. අපිට මේවා හිතන්නවත් බෑ. කොහොමද මේවා වෙන්නෙ කියලා හිතෙනවා. ඉතින් මෙහෙමත් සංසාරයක්. ඉතින් මේ ඔක්කොම මේවා පුදුම හිතෙනවා මේ අවුරුදු දස ආයුෂ ළඟදෝ කියලා හිතෙනවා. ඊටපස්සෙ තියෙනවා පින්වත් මහණෙනි, දස වසක් ආයුෂ ඇති කල්හි මේ සත්ත්වයන්ගේ හිත් ගොඩාක් දරුණු වෙනවා. ගොඩාක් වෛරය එනවා හිතට. දරුණු මානසික ආවේගයක් එනවා. එතකොට පින්වත් මහණෙනි, මේ දරුණු වධක චිත්තය හිතේ පිහිටුවාගෙන පුතා කෙරෙහි මවට එනවා වෛරය. මව ගැන පුතාට, පියා ගැන පුතාට, පුතා ගැන පියාට, සහෝදර සහෝදරියන්ට, බිරිඳ ස්වාමියා, දරුවා මේ ඔක්කෝටම පුදුම වෛරයක්, ජාති ගාණක වෛරයක් වගේ එකක් එනවා. බලවේගයක් විශාල වධක චිත්තයක්, මානසික ආවේගයක් එනවා තරහ පෙරටු කරගෙන. මහණෙනි, මුවන් මරන්නට දඩයමේ ගිය මුව වැද්දෙකුට ඈත මුවෙක් පෙනුනොත් හිටපිය තෝ මරාගන්න ඕන කියලා වෛරයෙන් ඔහුව ක්‍රෝධයෙන් වධක චිත්තයෙන් දුවන්නේ යම් සේ ද, ආන්න ඒ වගේ වධක චිත්තයක් දරුවො ගැන දෙමව්පියන්ට උපදිනවා. දෙමව්පියො ගැන දරුවන්ට උපදිනවා. සහෝදර සහෝදරියන්ට. ඊටපස්සෙ පින්වත් මහණෙනි, දස වස් ආයුෂ ඇති - මේ බලන්න වැඩිම විස්තරයක් කරනවානෙ මේ අවුරුදු දහය ගැන. පින්වත් මහණෙනි, වයස අවුරුදු දහයක් වුනාට පස්සෙ ඒ මිනිසුන් තුල, මිනිසුන්ගේ කාලයේ දවස් හතක ආයුධ, සත්දිනක ආයුධ අන්තඃකල්පයක් වන්නේය. අන්තඃකල්පයක් කියලා කියන්නෙ මේ පිරිහෙන යුගයේ අවසානය, කුසල් වැඩෙන යුගයේ ආරම්භය ඔය අතරතුර දවස් හතක් තියෙනවා. ආයුධ අන්තඃකල්පය. පින්වත් මහණෙනි, ඒ ආයුධ අන්තඃකල්පය ඔවුනොවුන් මෘග සංඥාවෙන් යුක්ත වෙනවා. මෘග සංඥාව කියන්නෙ අර වැද්දා මුවෙකුට එන සංඥාව තියෙන්නෙ, ඒ වගේ. ඔවුන්ගේ අත්වල ආයුධ පහළ වන්නේය. අත උස්සනකොට අතට ආයුධ එනවා. නිකං බිමින් පොල්ලක් ගත්තත් ඒක ආයුධයක් බවට පත්වෙනවා. ඒ තියුණු ආයුධයෙන් මූ මෘගයෙක්, මූ මෘගයෙක් කියලා ඔවුනොවුන් මරාගන්නාහුය.

දවස් හතේ. එකල්හි පින්වත් මෙහෙමයි සත්ත්වයා, සිද්ධ වෙනවාමයි. මෛත්‍රී බුදුරජාණන් වහන්සේ පහළ වෙන්න කලින් මේවා වෙන්නෙ. මෙච්චර බණ පද ඇහෙද්දිනුත් මිනිසුන්ගේ හිත් වල තියෙන ජරාව දිහා බලනකොට බණ පදයක් නැති මේ කාලෙ මනුස්සයා ඉපදුනොත් කොයි කොයි නම් පවක් කරගනියිද. මව මැරෙයි, පියා මැරෙයි, එතකොට අකුසල් කුසල් පිරිහුනා කියලා කතාවක් නෑ, මව මැරුණොත් පියා මැරුණොත් කල්පයක් නිරයේ. මෛත්‍රී බුද්ධ ශාසනෙත් ඉවරයි. මේකට නොවැටී දිව්‍ය ලෝකෙකටවත් පැන ගනියව් කියලා කියන්නෙ ඒකයි. දැන් මේ කියන්නෙ පින්වත්නි, මේ මනුස්ස ලෝකෙ තියෙන්නෙ මේවා, දෙව්ලොව නෙවෙයි. දෙවියෝ මහත් වූ ධර්ම සංවේගයෙන් මේ දෙස බලා සිටිනවා. කරන්න දෙයක් නෑ. භාග්‍යවතුන් වහන්සේ සියල්ල දුටුවා, කලින්ම දේශනා කලා. අවුරුදු දෙදහස් හයසීයකට කලින්. මේ අය හිතන්නෙ හැමදාම එක වගේ තියෙයි කියලා. ඒ මිත්‍යා දෘෂ්ටියෙන් ඈත් වන්න. ඒ අවිද්‍යාව නැති කරගන්න. මෙහෙම යුගයක් පහුකරගෙන මෛත්‍රී බුද්ධ ශාසනේට යන්න තියෙන්නෙ. කොහොමද කරන්නෙ? ඔය අතරින් ඉතාමත් සුළු පිරිසක්, අහෝ මහා විනාශයක් වෙන්න හදන්නෙ, පැනගනිල්ලා කියලා ගිරිගුහා වල, ලඳු කැලෑ වල, ගස් බෙන වල හැංගිලා ඉන්නවා දවස් හතක් කොළ කකා. අර එක එකා කාකොටාගන්නකොට, මරාගන්නකොට. ඊටපස්සෙ අලගෙඩි කාලා දවස් හතක් හැංගිලා ඉඳලා ඔන්න අර අලකලංචි ඔක්කෝම ඉවර වුනාට පස්සෙ හිමීට හිමීට හිමීට එක එක්කෙනා එළියට එනවා. එනකොට මිනී කඳු ගණන්. හැම ගෙදරකම ලේ වැගිරිලා, මිනී කුණු ගඳ, මරාගෙන. ඇඬු කඳුලින්, පපුවේ අත් ගහ ගහා අර මිනිස්සු ඉස්සරහට එනකොට එක එක කැලෑවලින් එක එක්කෙනා එනවා, අනේ උඹ මැරුන් නෑ නේද, උඹ ජීවත් වෙලා ඉන්නවා නේද කියලා වැළඳගන්නවා. ඇයි ගම් පිටින් ඉවරයි. එක්කෙනෙක් දෙන්නෙක් ඉතුරු වෙනවා. අනේ උඹ ඉතුරු වුනා නේද කියලා වැළඳගන්නවා. භවත් සත්ත්වය, දකින ලද්දේය. ජීවත් වෙහි භවත් සත්ත්වය, දකින ලද්දේය. උඹ මට දකින්න ලැබුනා, උඹ පණ පිටින් ඉන්නවා නේද කියලා බදාගන්නවා. ඒ මිනිස්සු කතා වෙනවා අපිටමයි වැරදුනේ. අපි මොනවහරි ජීවිතයේ අපි අතින් වෙන දේවල් අපි ජීවිතේ හදාගන්න ඕන. ඊටපස්සෙ ඔක්කෝම එක අදහසකට එනවා අපි අතින් මනුස්සයෙකුට නම් හානියක් වෙන්න දෙන්නෙපා කියලා. ආන්න ලෝකෙ ඉස්සෙල්ලාම මනුස්ස ඝාතනයෙන් වළකිනවා. මනුස්ස ඝාතනයෙන් වළකිනවා. දැන් අද කාලෙ උඟරො, කුකුළො ගාණට මිනිස්සු මරනවානෙ. මේ පොඩි දරුපැටිටො බඩවල්

වල ඉන්න දරුවො, අවුරුද්දට ලක්ෂ දෙක හමාරක් සිංහල දරුවොම ගබ්සා කරනවානෙ. අවුරුද්දට ලක්ෂ දෙක හමාරක්. සිංහල දරුවො මරනවා බඩ අස්සෙ. මේ මනුස්ස ඝාතනනෙ. මං මේ අද කාලෙ කියලා කිව්වෙ. ඒ කාලෙ මිනිස්සු කතා වෙනවලු අවුරුදු දහයයි ආයුෂ, මිනිස්සු නම් මරන්න එපා කියලා. මනුස්ස ඝාතනයෙන් වැළකී ඉන්නකොට අනේ අර කැහැටු ගැහිලා අපායෙ ඉන්න නිරිසත්තු වාගේ ඒ කාලෙ මිනිස්සුන්ගේ රූපය. පොඩ්ඩක් රූපය පාට වෙලා එනවා. ආයුෂ වැඩි වෙනවා. දස වස් ආයුෂ ඇති ඒ මිනිස්සු ඒ පරම්පරාවම මනුස්ස ඝාතනයෙන් වැළකෙනකොට, ඒකට අවුරුදු ගණනාවක් යනවා. මුළු සමාජයම එක අදහසකට එනකොට. එයාලගේ දරුවොන්ට වයස අවුරුදු විස්සක් වෙනවා. අවුරුදු විස්සයි. පින්වත් මහණෙනි, ඒ කාලයේ සත්ත්වයන්ට ඒ පරම්පරාවටම අදහසක් එනවා අපි අවුරුදු දහයෙන් ඉඳලා තියෙන්නෙ, අපේ අම්මලාගෙ මුතුන් මිත්තන්ගේ පරම්පරාවල අය. මහා විනාශ වෙලා තියෙනවා ඒ කාලෙ. ඉතින් මනුස්ස ඝාතනයෙන් වැළකී ඉන්න එකට සියලු දෙනා එක අදහසකට ආවට පස්සෙ තමයි අපිට ආයුෂ අවුරුදු විස්සක් වෙලා තියෙන්නෙ. ඒ නිසා අපි මොනවහරි පුරුදු කරන්න ඕන මේ ජීවිතේ කියලා ඒ අය මොකක්ද කලේ, සොරකම නතර කලා. සොරකමින් අපි වැළකී ඉමු කියලා. එතකොට සමාජයක්ම හොරකමින් වැළකී ඉන්න කොච්චර කාලයක් යයිද. එතකොට ඒ පරම්පරාවක් හොරකමින් වැළකී ඉන්නකොට ඊළඟ පරම්පරාවේ අයට ආයුෂ වැඩිවුනා අවුරුදු හතළිහයි. එතකොට ඒ අය කතා කලා මෙහෙම වුනා මෙහෙම වුනා, ඒ නිසා අපි කුසල් කරනවා නම්, යහපත් දේවල් කරනවා නම් හොඳයි කියලා ඒ අය වැරදි කාමසේවනයෙන් වැළකුනා. එතකොට සමාජයක්ම වැරදි කාම සේවනයෙන් වළකින්න කොච්චර කාලයක් යයිද. එතකොට ඒ පරම්පරාවම වැරදි කාම සේවනයෙන් වැළකුණාට පස්සෙ ඔවුන්ට ඉපදුනු දරුවන්ගේ ආයුෂ අවුරුදු අසූවක් බවට පත්වුනා. හතළිහ අසූවක් බවට පත්වුනා. ඒකනේ බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ කුසලානං ධම්මානං සමාදාන හේතු ඒවමෙව ධම්මං පුඤ්ඤං පවඩ්ඪති කියලා. කුසල් දහම් සමාදන් වීමෙන්මයි. එතකොට අර කැහැටු ගතිය, පෙරේත ගතිය මනුස්සයන්ගෙන් ඈත් වෙලා පොඩ්ඩ පොඩ්ඩ මූණ පාට වීගෙන ආවා. ඊටපස්සෙ පින්වත් මහණෙනි, ඒ ඇත්තො ඊළඟට සමාදන් වුනා ඒ පරම්පරාවේ කට්ටිය අපි බොරු කියන්නැතිව ඉමු කියලා. අවුරුදු අසූවක් තිබ්බ ආයුෂ අවුරුදු එකසිය හැටට වැඩිවුනා. බොරුකීමෙන් වැළකුනාට පස්සෙ. මනුස්සයාගේ ආයුෂයද වැඩිවුනා. වර්ණයද වැඩිවුනා. මනුස්සයා යම් පාටකට

එන්න ගත්තා. එතකොට සාමාන්‍යයෙන් මේ කියන විදිය අනුව විරූපී, මිහිපිට මළ පෙරේතයො වගේ නිරිසත්තු වගේ වෙන්න ඕන අවුරුදු දහයෙ ඉන්නෙ. එහෙව් නිරිසත්තු වගේ කැහැටු ගැහිච්චි විරූපී සත්ත්වයෝ සල්ලාලකම් කරනවානෙ. පෙරේතකම් කරනවානෙ, එලුවො ඌරො බලු කුකුළ්ලු වාගේ තමන්ගෙ සහෝදරියන් මව්පියවරුන් හඳුනන්නැතිව අනාචාරයේ යෙදෙනවානෙ. මෙහෙමත්, ඇඟ වැහැරිලා ගියත්, රූපය නැතිවුනත්, කටෙන් කෙළ වැගිරුණත්, මුලු ශරීරයම අශුචි ගඳ ගැහුවත් රාගය නම් අඩුවක් වෙන් නෑ. ද්වේෂය නම් අඩුවක් වෙන් නෑ, මෝහය නම් අඩුවක් වෙන් නෑ. මේ කෙලෙස් වලට නින්දා වේවා. මේ හිත් වල තියෙන ජරාවට නින්දා වේවා. එහෙම ශරීර වලිනුත් පව් කරනවානෙ. පින්වත්නි භාග්‍යවතුන් වහන්සේ වදාළා ඊටපස්සෙ මේ ඇත්තො, තවත් අය සමාජයේ යම් අදහසකට එනවා අපි කේලම් කියන්නැතිව ඉමු කියලා. එයාලට ජේනවානෙ පරම්පරාවල ගුණධර්ම වැඩෙන විදිය. කේලම් කියන්නැතිව ඉන්නකොට එකසිය හැට වස් ආයුෂ මිනිස්සුන්ගේ ඒ දරු පරම්රාවට තුන්සිය විසි වස් ආයුෂ ඇතිවුනා. ඊටපස්සෙ මේ අයත් ඒ කුසල් දහම් ඒ පරම්පරාවක්, සමාජයක් එක අදහසකට ආවට පස්සෙ ඒ බිහිවෙන පරම්පරාවේ අයටනේ ආයුෂ වැඩිවෙන්නෙ. ඒ අය ආයෙ කල්පනාවකට ආවා අපි දරුණු වචනයෙන් වැළකී වාසය කරමු කියලා. සැර වචන කතා කරන එක පුදුම පාපයක්. හිත් රිදෙන වචන, හින්ට් පාස් කරන ඒවා, අවකැපෙන කතා, ඊළඟට දෙපැත්ත කැපෙන කතා, ඒවා ඔක්කෝම පව්. මහා භයානක පාපයක්. මේ මිනිස්සු ඒක නොකර ඉන්න සමාදන් වෙනවා. එතකොට ඒ මිනිස්සුන්ගේ ආයුෂ තුන්සිය විසි වස් ආයු ඇති මිනිස්සුන්ගේ දරු පරපුරට හයසිය හතළිහක්, අවුරුදු හයසිය හතලිහක් බවට ආයුෂ පත්වෙනවා. ඒ ඇත්තො කල්පනා කරනවා ඒ පරම්පරාවේ අය අපි කේලම් කියන්නෙත් නැතිව, දරුණු වචන කියන්නෙත් නැතිව හිස් වචනයෙන් වැළකී ඉමු. නිකං වල්පල්, ඕපාදූප, කුණුහරුප, හිස් කතා, හක හක ගාලා හිනාවෙන්න හදාගන්න, ගොතාගන්න කතා, ඒ ඔක්කොම නතර කරමු. සමාජයක්ම එනවා ඒ තැනට. අන්න ඊටපස්සෙ ඉපදෙන දරුවොන්ගේ ආයුෂ අවුරුදු දෙදාහට වැඩි වෙනවා. හයසිය හතළිහ දෙදාහ දක්වා වැඩි වෙනවා. පින්වත් මහණෙනි, ඒ සත්ත්වයන්ටත් අදහසක් ඇතිවෙනවා කුසල් දහම් සමාදන් වෙච්චි නිසා තමයි මේ මිනිස්සුන්ගේ ආයුෂ වැඩි වෙලා තියෙන්නෙ, අපිත් යහපත් දෙයක් කරන්න ඕන කියලා හිතාගෙන මේ අය මොකද කරන්නෙ, අනුන් සතු දේ තමා සතු කරගන්න තියෙන ආශාව, අභිද්‍යාව දුරු කරනවා. අභිද්‍යාව දුරු කරපු ගමන්,

ඒ සමාජයම ඒ අදහසට ආව ගමන් ඊළඟට ඉපදෙන දරු පරම්පරාවට අවුරුදු හාරදාහක් ආයුෂ. ඊළඟ පරම්පරාවේ අය කල්පනා කරනවා අපි ද්වේෂය දුරු කරමු, ව්‍යාපාදය. තරහා නැතිව ඉන්නවා. ඒ ආයුෂ අවුරුදු අටදාහක් දක්වා වැඩිවෙනවා. හාරදාහ අටදාහක් වෙනවා. පරම්පරාවම එනවා. මේක පින්වතුනි පියගැටපෙලෙන් පියගැටපෙලට වාගේ නෙවෙයි මුල් පරම්පරා කියලනෙ අපි කියන්නෙ. කියන්නෙ සමාජයම එක අදහසකට ඇවිල්ලා, දැන් අපි කියනවා සිංහල පරම්පරාව කියලා, එතකොට සිංහලයො හටගත්තෙ කවද්ද. අපේ මුතුන් මිත්තන්ගේ පරම්පරාව කියනවා, එතකොට ඒ වගේ තමයි මේ සිද්ධ වෙන්නෙ. ඊටපස්සෙ මේ විදියට මොකද වෙන්නේ මෙයාලා ඊළඟට සමාදන් වෙනවා, අපි අවුරුදු අටදාහට ආව තැන අපි මිත්‍යා දෘෂ්ටිය දුරු කරමු. අම්මා, තාත්තා පින් පව්, කුසල් අකුසල් අදහගන්නවා. ඒ අයගේ ආයුෂ අවුරුදු විසිදාහක් වෙනවා. අටදාහේ ආයුෂ විසිදාහට වැඩිවෙනවා. ඊටපස්සෙ ඒ අය සමාදන් වෙනවා මොකක්ද, අධර්ම රාගය, විෂම ලෝභය, මිත්‍යා ධර්මය දුරු කරන්න ඕන කියලා, එතකොට ඒවා අධර්ම රාගය, විෂම ලෝභය, මිත්‍යා ධර්මය කියන ඒවා හැංගිලා හැංගිලා අස්සෙන් ඇවිල්ලා ඒවා සම්පූර්ණයෙන්ම ලෝකයේ නැතිවෙන්නෙ මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු හතළිස්දාහක් වුනාට පස්සෙ. අවුරුදු හතළිස්දාහක් වෙච්චි තැන මව්ට සළකනවා, පියාට සළකනවා, ශ්‍රමණ බ්‍රාහ්මණයන්ට මහා ඉහළින් සළකනවා. දෙවිවරු වගේ, බ්‍රහ්මයෝ වගේ සළකනවා. අවුරුදු අසූදාහට වැඩෙනවා ඔය එකක් එකක් ගානේ මූණේ රූපේ පැහැය ආයුෂ වගේ ම ඒ පැත්තෙන් වැඩෙනවා. කොච්චර ලස්සන රූප සෞන්දර්යයක් තියෙන පිරිසක් ද. ඊළඟට අකුසල් කොච්චර දුරු කරපු මිනිස්සුද. පින්වත් මහණෙනි, අවුරුදු අසූදාහක් ආයුෂ ඇති කාලෙ අවුරුදු පන්සීයෙන් තමයි පතිකුලයට යන්නෙ, විවාහ වෙන්නෙ. අවුරුදු පන්සීයක් යනකල් නාඩගම් නෑ, නැටිලි නෑ, අවුරුදු පන්සීයක් වෙනකල් කුමර බඹසර රැකගෙන, කුමරි  බඹසර රැකගෙන පාඩුවේ ශිල්ප ශාස්ත්‍ර ඉගෙන ගෙන ඉන්නවා. අවුරුදු පන්සීයෙන් තමයි විවාහ වීමේ අවශ්‍යතාවයක් ඇතිවෙන්නෙ. ඒ කාලෙට. මෛත්‍රී බුදුරජාණන් වහන්සේගේ කාලයේ. ඊටපස්සෙ අද කාලයේ කොහොමද අවශ්‍යතා ඇතිවෙන්නෙ. මේ පුංචි එකා ස්කෝලෙ යද්දින් මේ එක එක නාඩගම්නෙ. පහ වසර, හය වසර, හත වසර, තුන වසර, දෙක වසර, පුංචි ඇයො. ඇයි මේ කාටුන් චිත්‍රපටි, ටීවී නිසා මනුස්සයින්ගෙ හිත් වල තියෙන අලකලංචි, අවුරුදු අසූදාහක් කාලයේ මනුස්සයෙකුට කසාද බැඳීමේ අවශ්‍යතාවයක් ඇතිවෙන්නෙ අවුරුදු පන්සීයක් ගියාට පස්සෙ. ඊටපස්සෙ

කියනවා ඒ කාලයේ මිනිසුන්ගේ රෝග නැතිවෙලා රෝග තුනයි හැදෙන්නෙ. ඒ තමයි ආහාර ගන්න, ආහාර තෘෂ්ණාව, ආහාර නැතිවීමෙන් වෙන කලන්තය සහ ජරාජීර්ණ බව. ඔය තුන විතරයි කියනවා ලෙඩ තුන. කෑම කන්න තියෙන ආශාවයි, ආහාර නැති වුනොත් එන ක්ලාන්තයයි, වයසට යන එකයි විතරයි කියනවා. කොහොමද. මහණෙනි, ආයුෂ අවුරුදු අසූදාහක් වූ කල්හි දඹදිව ඉතාමත් සමෘද්ධිමත් සැප සම්පත් වලින් ආඪ්‍යයි. නියම්ගම් ජනපද රාජධානි වල වහලෙන් වහලට කුකුළො කුක්කුට සම්ප්‍රාප්ත වෙනවා. කුකුළේ වහලෙන් වහලෙට යනවා, එච්චර ගෙවල්. මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු අසූදාහක් වන කල්හි මේ දඹදිව උණ ගස් වනයක්, බට ගස්වනයක්, අවීචි මහා නරකාදියව වගේ ඒච්චර සත්ත්වයා, ජනී ජනයා පහළ වෙනවා. මහණෙනි, ආයුස වසර අසූදාහක් වූ කල්හි මේ බාරාණසිය ඉතාමත් සමෘද්ධිමත් බොහෝ ජනයා සිටින, ජනයාගෙන් ගැවසීගත් සුලභ ආහාරපාන ඇති කේතුමතී නම් වූ රාජධානිය කියලා කියන්නෙ ඒ කාලෙට, අද බරණැස. අද බරණැස තමයි අනාගතේ මෛත්‍රී බුදුරජාණන් වහන්සේ පහළ වෙන රාජධානිය වෙන්නෙ. මිනිසුන් අතර අසූදහස් වසරක් ආයුෂ ඇති කල්හි දඹදිව කේතුමතී රාජධානියේ අසූහාරදාහක් නගර තියෙනවා. ඒ කාලයේ මුළු පෘථිවියටම අගරජ කෙනෙක් පහළ වෙනවා. ඒ තමයි සංඛ කියන සක්විති රජතුමා පහළ වෙනවා. බාරාණසිය, ඒ කියන්නෙ කේතුමතී රාජධානියට කිට්ටුව, බාරාණසියේ ගංගා නම් ගඟ අයිනේ ඒක වෙන්නෙ මගධය පැත්තට වන්න ඕන. ගංගා නම් ගඟ මැදින් ඒ සංඛ රජ්ජුරුවන්ට විශාල මාළිගාවක් පොළොවෙන් මතුවෙනවා. ඒ මාළිගාවේ නම කුමක්ද, මහා පනාධ මාළිගාව. ඇයි ඒ මහා පනාධ මාළිගාව කියන්නෙ, අතීතයේ තාත්තයි පුතයි දෙන්නා බටපතුරු වලින් ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමකට කුටියක් හදලා පූජා කලා. ඒ පින් බලයට ඔවුන් සංසාරේ ගමන් කරද්දි මහා පනාධ කියලා තාත්තා ඉපදුනා. ඒ මහා පනාධරජතුමාට මහපොළොවෙන් කුළු ගෙවල් දාහක් සහිත ශක්‍රයාගේ වෛජයන්ති ප්‍රාසාදය වගේ මාළිගයක් මතුවුනා, බුදු කෙනෙකුට කුටියක් හදපු පින් බලයට. මහා පනාධ රජ්ජුරුවො මැරුණට පස්සෙ පොළොවේ කිඳාබැස්සා. ඒ රජතුමා බුද්ධ කාලෙ ඉපදුනා බද්දජී කියලා. බද්දජී මහරහතන් වහන්සේ බවට පත්වුනා. උන්වහන්සේ ගංගා නම් ගඟ මැදින් යද්දි දිය රවුමක් කැරකෙනවා. ප්‍රිය ආයුෂ්මතුනි ඒ අතීතයේ මං මහා පනාධ වෙලා ඉද්දින් මං වාසය කරපු මාළිගාවේ සිළුමිණේ වැදිලා තමයි කිච්චා මේ වතුර කැරකෙන්නෙ, හිනාවෙන්න ගත්තා සංඝයා. භාග්‍යවතුන් වහන්සේ වදාළා නෑ,

ඒක ඇත්තක්. භද්දජී ඒ මාළිගාව මතු කරන්න කිව්වා. උන්වහන්සේ ආකාසෙට පැනනැගිලා ඍද්ධි ප්‍රාතිහාර්ය දක්වලා උන්වහන්සේගේ සිරිපතුල වතුර ඇතුලට යවලා මාළිගාවේ ඒ කොත උන්වහන්සේගේ ඍද්ධිමත් පාදයේ ඇඟිලි අතරට යවලා මාළිගාව ඉස්සුවා පාදයෙන්. වතුරෙන් උඩට මතුවුනා මාළිගාව. ඒ මාළිගාවෙන් කැස්බෑවො, මාලුවො, ජනෙල්වලින් එහෙන් මෙහෙන් වැටෙනවා, වතුර ඇතුලෙනෙ තිබ්බෙ. බුදුරජාණන් වහන්සේ වදාළා භද්දජී මාළිගාව තිබ්බ විදියටම තියන්න, නෑදෑයන්ට හිංසා වෙයි කිව්වා. නෑදෑයො කිව්වෙ ඒ මාළිගාවේ මුර කරපු අය, අතුපතු ගාපු අය, මාළිගාවට ආසාවෙන් ඔත්න මැරිලා ඉන්නවා මාළුවො වෙලා මාළිගාවේ. මාළිගාව අයිති එක්කෙනා අර්හත් වුනා. අද කාලෙත් එහෙමනෙ. අයිති එක්කනොට අමාරුවක් නෑ, වටේ ඉන්න අයටනෙ පුදුම අමාරුවක් තියෙන්නෙ. මේ සමාජයේ තියෙන දේවල්. ඊටපස්සෙ ඒ වගේම ලැගගෙන ඉන්නවා. ඉතින් පින්වත්නි, ඊටපස්සෙ මොකද වුනේ, ඒ මාළිගාව ඇයි එහෙම තියෙන්නෙ. තාත්තයි පුතයි දෙන්නනෙ පින කලේ. තාත්තට විපාක දුන්නා. පුතා තමයි අනාගතේ සංඛ කියලා සක්විති රජ වෙන්නෙ. ඒ පුතා වෙනුවෙන් ඒ මාළිගාව තියෙනවා, පුදුම සහගත දේවල් මෙච්චා. ඒ මාළිගාවෙ ඉන්නවා. ඉතින් අවුරුදු අසූදාහක් වූ කල්හි පින්වත් මහණෙනි, අරහං ගුණෙන් බබළන සම්මා සම්බුදු ගුණයෙන් බබළන, විජ්ජාචරණ සම්බුදු ගුණයෙන් බබළන, සුගත ගුණයෙන් බබළන, ලෝකවිදූ ගුණයෙන් බබළන, අනුත්තර පුරිසදම්ම සාරථී ගුණයෙන් බබළන, සත්තා දේවමනුස්සානං ගුණයෙන් බබළන, බුද්ධ ගුණයෙන් බබළන, භගවා ගුණයෙන් බබළන, මෛත්‍රී ඒ තථාගත සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙනවා. පින්වත් මහණෙනි, දැන් සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක්, අරහං සම්මා සම්බුද්ධ විජ්ජාචරණ සම්පන්න ගුණයෙන් බැබළී බැබළී දැන් සිටින්නේ යම් සේද, මෛත්‍රී බුදුරජාණන් වහන්සේත් ඒ වගේමයි කිව්වා. ඒ කාලයේ මෛත්‍රී භාග්‍යවතුන් වහන්සේ දෙවියන් සහිත, මරුන් සහිත, බඹුන් සහිත, ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත දෙව් මිනිස් ප්‍රජාව තුළ මේ ලෝකයට ස්වකීය ඥාණයෙන් අවබෝධ කරගත්තු ධර්මය ප්‍රකාශ කරනවා, ධර්මය දේශනා කරනවා. පින්වත් මහණෙනි, මම දැන් යම් සේ ධර්මය දේශනා කරනවාද, මෛත්‍රී තථාගතයන් වහන්සේත් ඒ විදියටම ධර්මය දේශනා කරනවා. ඒ විදියටම. එහෙනම් දැන් අතාරින කෙනා එදාටත් අතාරියි. දැන් දහමට ආස කෙනා එදාටත් දහමට ආසයි. මොකද දැන් කියන බණයි ඒ කාලෙ බණයි දෙකක් නෙවෙයි එකක්. ඒ මෛත්‍රී භාග්‍යවතුන් වහන්සේ ධර්මය දේශනා කරන

සේක් මුල, මැද, අග පිරිසිදු ඒ ධර්මය දේශනා කරන කල්හි පින්වත් මහණෙනි ඒ පිරිසිදු ධර්මය නිවන් මාර්ගය ලෝකයාට ප්‍රකට වෙනවා. දැන් මං මේ නිවන් මාර්ගය ප්‍රකට කලා වගේ. මෛත්‍රී බුදුරජාණන් වහන්සේ සිය ගණන්, දහස් ගණන් සංඝයා සමඟ වාසය කරනවා, දැන් මං සිටිනවා වගේ. ඒ වෙනකොට බුදුරජාණන් වහන්සේ මගධයේ මාතුලාවේ මගධ කුඹුරු යායක, ගොයම් කපපු කුඹුරු යායක සංඝයා විසිදාහක් එක්ක ඉන්නෙ දැන්. මිනිස්සු දහස් ගාණක්. මිනිස්සු ලක්ෂ ගාණක් පිරිවරාගෙන එදා ඒ ධර්ම දේශනාව. මේ චක්කවත්තීසීහනාද සූත්‍රය. දැන් මා පිරිවරා මේ සඟරුවන සිටින්නා සේ මෛත්‍රී තථාගතයන් වහන්සේත් පිරිවරාගෙන මහා සංඝයා වැඩ සිටිනවා කිව්වා. එකල්හි පින්වත් මහණෙනි, මහා පනාද නම් රජුවිසින් මවන ලද යම් ඒ ප්‍රාසාදයක් ගංඟා නදියේ ගිලී ඇත්තේද, ඒ ප්‍රාසාදය ගොඩට ගෙන සංඛ නම් සක්විති රජු එහි වාසය කොට එය අත්හැර ශ්‍රමණ බ්‍රාහ්මණ දුගී මගී යාචකාදීන්ට දන් දී මෛත්‍රී තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ළඟ කෙස් රැවුල් බා පැවිදි වන්නාහුය. ඒ කාලෙ මෛත්‍රී බුදුරජාණන් වහන්සේගේ කාලයේ දෙතිස් මහා පුරුෂ ලක්ෂණ තියෙන දෙදෙනෙක් ඉන්නවා. මෛත්‍රී බුදුරජාණන් වහන්සේයි, සංඛ තෙරුන් වහන්සේයි. ඒ සංඛ තෙරුන් වහන්සේ පැවිදිව නොබෝ කලකින් අප්‍රමාදී වී සියලු කෙලෙස් නසා අර්හත්වයට පත්වන්නාහුය. විශේෂ සිද්ධියක්, ඒකයි බුදුරජාණන් වහන්සේ ඒක දේශනා කරන්නෙ. මහණෙනි, තමන් තමාට දූපතක් කරගන්න. පිළිසරණ කරගන්න, වෙන සරණක් නෑ. ධර්මය පිළිසරණ කරගන්න, වෙන සරණක් නෑ. සතර සතිපට්ඨානයේ මනාව යෙදෙන්න. පින්වත් මහණෙනි, තමා තමාට දූපතක් කොට ධර්මයේ හැසිරෙනකොට, ධර්මයේ වාසය කරනකොට පියාගේ උරුමයේම ඉන්න. පියාගේ උරුමයේම ඉන්නකොට මාරයාට ඔබව දකින්න ලැබෙන් නෑ. සතර සතිපට්ඨානයේ ඉන්නකොට ඔබ ආයුෂයෙනුත් වැඩෙනවා, වර්ණයෙනුත් වැඩෙනවා, සැපයෙනුත් වැඩෙනවා, භෝගයෙනුත් වැඩෙනවා, බලයෙනුත් වැඩෙනවා. දැන් අර ආයුෂ වැඩෙන්න කොච්චර කාලයක් ගියාද. සැපය බලය වැඩෙන්න කොච්චර කාලයක් ගියාද. ඔය ඔක්කොම එකපාර වඩාගන්න පුලුවන් කිව්වා සතර සතිපට්ඨානයෙන්. කුමක්ද පින්වත් මහණෙනි, වැඩෙන ආයුෂ? භික්ෂුවගේ ආයුෂ තමයි කිව්වා ඡන්ද, චිත්ත, වීර්ය, වීමංසා කියන ඍද්ධිපාද හතර. ඒ භික්ෂුවට ඕනතරම් ඉන්න පුලුවන් අධිෂ්ටානයෙන්. කුමක්ද පින්වත් මහණෙනි, සතර සතිපට්ඨානය වැඩෙනකොට වර්ණය වැඩෙනවා කියන්නෙ. ඒ මේ සීලයයි. සීලය තමයි භික්ෂුවගේ ලස්සන, වර්ණය.

කුමක්ද පින්වත් මහණෙනි, සැපය වැඩෙනවා කියන්නෙ. මේ ධ්‍යාන හතරයි, ධ්‍යාන සැපය. කුමක්ද සතර සතිපට්ඨානය වඩනකොට වැඩෙන භෝග සම්පත්. ඒ තමයි මෛත්‍රී කරුණා මුදිතා උපෙක්ඛා කියන බ්‍රහ්මවිහාර හතර. කුමක්ද පින්වත් මහණෙනි මේ භික්ෂුවගේ බලය වැඩෙනවා කියන්නෙ සතර සතිපට්ඨානය වඩනකොට. ඒ මේ ආසවක්ඛය ඥාණයයි, අර්හත් බලයයි. පින්වත් මහණෙනි, යමක් මෙසේ දුකසේ මැඩලිය යුත්තේද, මහණෙනි මේ මාර බලය තරම් අන්‍ය වූ එක් බලයක් මම දකින් නෑ. ජයගන්න අමාරු, රහතන් වහන්සේ ඒකත් ජයගන්නවා. කුසලානං ධම්මානං සමාදාන හේතු ඒවමෙදං පුඤ්ඤං පවඩ්ඪති, දැක්කද කුසල් වඩපු ගමන් පින් වැඩෙන හැටි. භාග්‍යවතුන් වහන්සේ මගධයේ මාතුලාවේ, මගධ ගම් කෙතේ ගොයම් කැපූ වෙල් ඉපනැල්ලේ මේ දහම් දේශනා කරද්දි විසිදාහක් සංඝයා අර්හත්වයට පත්වුනා. අසූදාහක් ගිහි මිනිස්සු සෝතාපන්න බවට පත්වුනා. කිව්වෙ මෛත්‍රී බුද්ධ ශාසනය ගැන. නිවන් දැක්කෙ මේ බුද්ධ ශාසනේ. ඇයි දන්නවා මේක ලේසි නෑ, එදාට කරගන්න තියෙන්නෙත් අද කරගන්න දේමයි කියලා. ඔන්න ඕක තමයි අනාගතය. එතනින් පස්සෙ තියෙන්නෙ ලෝක විනාශය. කාලයක් ගිහිල්ලා. ඒක තියෙන්නෙ සත්තසුරිග්ගමන සූත්‍රයේ. අපි ඒ සූත්‍රයත් ඉගෙන ගනිමු. මේ දේශනා ටික පිළිවෙලට ඉගෙන ගත්තා නම් ලෝකය හැදුනේ කොහොමද, පැවතුනේ කොහොමද, පවතින්නේ කොහොමද, නැසෙන්නේ කොහොමද කියලා බුද්ධ වචනයෙන්ම ඉගෙන ගන්න පුලුවන්. ලෝකයේ වෙන කිසිම දහමක, කිසිම ආගමක කිසි කෙනෙකුට නොලැබුනු අවස්ථාවක්. අනේ මේ සියල්ල මාගේ බුදුරජාණන් වහන්සේ කරුණාවෙන් මට දේශනා කොට වදාළානේ කියලා පහන් සිත උපද්දවගන්න ඕන. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ඒ උතුම් ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ඒ ආර්ය මහා සංඝරත්නය මම සරණ යනවා කියලා හිතන්න. මේ උතුම් තිසරණය අපගේ ජීවිතය දුකින් නිදහස් කරත්වා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා වෛද්‍යා මිථිලා කුලතුංග මහත්මිය, වෛද්‍ය පවන බණ්ඩාර මහත්මයා විසින් තමයි දායකත්වය දැරුවේ. මේ ඇත්තන්ටත් වාසනාව ලැබුනා භාග්‍යවතුන් වහන්සේගේ මේ අනාගත වංශ දේශනාව මිනිස්සුන්ට අහන්න සළස්වන්න. මේක වර්ණනා සහිතව රෑ එළිවෙනකල් ඉස්සර අනාගත වංශ දේශනාව කියලා දේශනා කරලා තියෙනවා. විල්ගම්වල ඒ යතිවරයාණන් වහන්සේගේ තියෙනවා

අනාගත වංශ දේශනාව කියලා ඉස්සර තිබ්බා බණපොතක්. ඉතින් පන්සල් වල රෑ එළිවෙනකල් ඕවා ඉස්සර කියලා තියෙනවා. ඒ තමයි බුද්ධ වචනය මේ පැයකින් දේශනා කලේ. ඒ නිසා ඔබට ඒ ධර්ම දේශනාව අහන්න මේ පින්වතුන් දායකත්වය සැලසුවා. ඉතින් සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී සියලු දෙනා රකිත්වා. මියපරලොව ගිය බී.එස්. විතානගේ සීයාට, ආර්.ආර්.ජී. කුලතුංග සීයාට, පේමා කුලතුංග අත්තම්මාට, මහින්ද්‍ර කුලතුංග ලොකු තාත්තාට, එච්.එම්. කිරිමුදියන්සේ කන්දෙපොල සීයාට, බී.එම්. ලීලාවතී මැණිකේ අත්තම්මාට, එම්.ඒ.බී. කුක්කුබණ්ඩා සීයාට, ටී.එම්. රන්මැණිකේ අත්තම්මාට සහ චාන්දනී ගුරු මෑණියන්ට පින් අනුමෝදන් වෙත්වා. ඒ මියපරලොව ගිය සියලූම ඥාතීන් ඔබ කවුරුත් නමින් පරලොව සැපයට පත්වේවා. මේ පරම පූජනීය මේ උතුම් ශ්‍රී සද්ධර්මය අපිට දේශනා කරලා මේ බුද්ධ ශාසනය පිහිට අපිට ලබලා දුන්නා. සැබෑවටම මෛත්‍රී බුද්ධ ශාසනය කුමක්ද කියලා අපිට පහදවලා දුන් මේ දහම විවෘත කරලා අපිට පිළිසරණ හදලා දුන්නු තුණුරුවන්ගේ අපේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂම ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු සඟරුවනට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම මේ පින්වතුන්ගේ දෙමව්පියන්ට, විපුල් කුලතුංග, වසන්තා විතානගේ. එච්.එම්.ඒ.බී.එම්. උදුලබංඩාර, එච්.එම්. සුධර්මා කුමාරිහාමි යන දෙමපියන්ට නිදුක් නිරෝගී සුවසැලසේවා. වෛද්‍ය මධුභාෂණ බණ්ඩාර සහ වෛද්‍ය රජිනි බුද්ධිකා යන සහෝදර සහෝදරියන්ටත් ඒ ඇත්තන්ගේ දෙමව්පියන් එච්.එම්. දයානන්ද කරුණාතිලක සහ ඊ.එම්. කල්‍යාණි ඒකනායක යන දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුව දීර්ඝායුෂ සැලසේවා. ඔස්ට්‍රේලියාවේ පදිංචි ගාමිණි විතානගේ මහත්මාට, සුජීවත්ව සිටින පේමා විතානගේ අත්තම්මාට නිදුක් නිරෝගී සුව සැලසේවා. වෛද්‍ය මිථිලා කුලතුංග මහත්මිය, වෛද්‍ය පවන බණ්ඩාර මහත්මයා මේ ඇත්තන්ගේ යහපත් අදහස් ඉටුවේවා. ගෞතම සසුනේ පිහිට ලැබේවා. ඔබ අප කාටත් උතුම් චතුරාර්ය සත්‍යය අවබෝධ කරගෙන තමා තමාට දූපතක් කරගෙන ධර්මය දූපතක් කරගෙන පිළිසරණ රැකවරණය කරගෙන සසර දුකින් නිදහස් වෙන්න මේ පින නම් හේතු වාසනාම වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=phKeOqpluV4&list=PLaIyA_suCnHx15brN1UCvrdIW8GMhnA&index=89

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් මේ සංසාරයේ අනිත්‍ය බව, භාග්‍යවතුන් වහන්සේගේ අවබෝධය ඉතාමත් මැනැවින් ප්‍රකට වෙන ඒ වගේම ලෝක විනාශය කොහොමද සිද්ධ වෙන්නෙ කියලා මැනැවින් ප්‍රකට වෙන සූත්‍ර දේශනාවක් ඉගෙන ගන්නෙ. අද මේ

උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරනවා අංක 541/බී, 38 කොලනිය, පදවි පරාක්‍රමපුර යන ලිපිනයේ පදිංචි පින්වත් නිශාන්ති නිල්මිණී මහත්මිය ඇතුළු පවුලේ සියලු දෙනා. මේ ඇත්තන් බොහෝ පින් රැස් කරගන්නවා භාග්‍යවතුන් වහන්සේ නමකගේ අවබෝධය, ශාස්තෘන් වහන්සේගේ අනන්ත ගුණ සම්පත්තිය, ශ්‍රී සද්ධර්මයේ ආනුභාවය මේ ලෝකෙට අහන්න සළස්වන මේ ධර්ම දානයේ පින සුළුපටු දෙයක් නෙවෙයි. ඔබටත් ඔබගේ පවුලේ සියලු දෙනාටත් බොහෝ කාලයක් හිතසුව පිණිස පවතින මහා පිනක් රැස්කරගත්තා කියන සන්තෝෂය ඔබට තියෙන්න ඕන. ඉතින් පින්වත්නි, අද දවසේ කියලාදෙන්නෙ, අපි මීට කලින් අග්ගඤ්ඤ සූත්‍රය ඉගෙන ගෙන, අග්ගඤ්ඤ සූත්‍රය ඇසුරෙන් ලෝකය හැදෙන හැටි ඉගෙන ගත්තා. ඊටපස්සෙ එතනින් පස්සෙ තමයි ජාතක කතා මේ වෙනත් සූත්‍ර දේශනා වෙන බ්‍රාහ්මණ, රාජවංශ ඒවා ඇතිවෙන නැතිවෙන විස්තර අපි ඉගෙන ගන්නෙ. ඊළඟට චක්කවත්තී සීහනාද සූත්‍රයෙන් ලෝකයේ කොහොමද මනුෂ්‍යයාගේ ආයුෂ අවුරුදු දහයට අඩුවෙන්නෙ, ඒ වගේම මෛත්‍රී බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙන්නෙ කොහොමද, ඊටපස්සෙ ලෝකය කොහොමද කියලා අපි ඉගෙන ගන්නවා. දැන් අද අපි ඉගෙන ගන්නෙ එතනින් පස්සෙ කොහොමද ලෝකයට සිදුවෙන්නෙ, මේ පෘථිවියේ ආයුෂ කොච්චරද, අපි මේ පය ගහලා ඉන්න මහපොළොවට කුමක්ද වෙන්නෙ. අපි ගැන නම් අහන්නම දෙයක් නෑනෙ. අවුරුදු පනහෙන් හැටෙන් අපි ඉවරයි. අවුරුදු පහක් දහයක් යනකොට අපේ සොහොන් වල ගස්. ඒ නිසා අපි ගැන කතා කරන්නම දෙයක් නෑ. මේ ගණකඩ මහා බොල් පොළොව, පරක් තෙරක් නොපෙනෙන මහා විශාල පෘථිවිය පවා විනාශ වෙලා යනවා. ඒක තමයි ලෝක විනාශය. ඒක තමයි කල්ප විනාශය. ඒක තමයි මහා පෘථිවියේ අතුරුදහන් වීම. අද කියන ධර්ම දේශනාව, මේක නම් ඒකාන්ත සත්‍යයක් කියලා දිට්ඨි සම්පන්න පුද්ගලයෙක් තුළමයි කිඳා බහින්නෙ. ශ්‍රද්ධාවන්ත කෙනා අදහනවා. බුදුරජාණන් වහන්සේලාගේ වචනය අදහගන්න බැරි පව්වු කර්ම ඇති අයට මේ දේශනාව ශ්‍රවණය කරලා හිත පහදවගන්න අමාරු වෙනවා. මොකද ඔවුන් නිත්‍ය සංඥාවේ බැසගෙන ඉන්න නිසා. දැන් බලන්න ඔබ ඉන්නෙ ශ්‍රද්ධාව තුලද. ශාස්තෘන් වහන්සේට මනාව පැහැදිලාද. අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේගේ අවබෝධය ඔබ පිළිගන්නවාද කියලා බලන්න. ඒ සඳහා අද අපි දේශනාව ආරම්භ කරනවා, සත්ත සුරියුග්ගමන සූත්‍රය. සූර්යයන් හතක් පායලා මේ මහා පෘථිවිය විනාශ වෙලා යන ආකාරය. මේ කාලයේ භාග්‍යවතුන් වහන්සේ වැඩ හිටියේ අම්බපාලි

වනයේ. මේ වෙනකොට මේ අම්බපාලි වනයේ කතා වෙන්නෙ අනිවාර්යයෙන් භාග්‍යවතුන් වහන්සේ පිරිනිවන් පෑම කිට්ටු කරලා. මොකද භාග්‍යවතුන් වහන්සේ පරිනිර්වාණ ගමන වඩිනකොටයි අම්බපාලි, අම්බපාලි වනය පූජාකරන්නෙ. එදා අම්බපාලි වනයේ වැඩ ඉඳලා භාග්‍යවතුන් වහන්සේ සංඝයා අමතා වදාළා. අනිච්ඡා භික්ඛවෙ සංකාරා, පින්වත් මහණෙනි, හේතු ඵල දහමින් හටගත්ත මේ සියලු සංස්කාරයෝ අනිත්‍යයි. අද්වා භික්ඛවේ සංකාරා, හේතුඵල දහමින් හටගත්ත මේ සියලු ධර්මයෝ, සියලුම දෙවල් අස්ථිරයි. අනස්සාසිකා භික්ඛවේ සංකාරා, සියලු සංස්කාරයෝ අස්වැසිලි රහිතයි. පිහිටක් නෑ, එල්ලෙන්න පුලුවන් දෙයක් නෑ. රැකවරණයක් ලබන්න දෙයක් නෑ, සියල්ලම අනිත්‍යය වෙලා යනවා. අස්ථිර වෙලා යනවා. අස්වැසිලි රහිත බවට පත්වෙනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා අලමෙව සබ්බසංකාරෙසු නිබ්බින්දිතුං, මේකම ප්‍රමාණවත් නැද්ද අවබෝධයෙන්ම කළකිරෙන්න. අලං විරජ්ජිතුං, නොඇලෙන්න. අලං විමුච්ඡිතුන්ති, නිදහස් වෙන්න මෙයම කාරණාවයි. මේ සියලු සංස්කාරයෝ අනිත්‍යයි කියන එක. සමහර ජීවිත වල තියෙනවා මුළු ජීවිත කාලෙම මේ ලෝකයේ සත්ත්වයෝ ඉන්නවා අනිත්‍යයි කියන එක හිතලම නෑ. වෙනස් වෙනවා අන්‍ය ස්වභාවයකට පත්වෙනවා, ස්ථිර නෑ කියලා හිතලම නෑ, සුද්දො නම් හිතන්නෙම නෑ. සුද්දන්ට ආවඩ, වඩ ඉන්න අය නම් හිතන්නෙම නෑ. යම්කිසි කෙනෙක් බුදුරජාණන් වහන්සේ සරණ ගියාහුද ඔවුහු සිතනවා සියලු සංස්කාරයෝ අනිත්‍යයි කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, සෙමේරු පර්වත රාජයා දිගින් යොදුන් අසූහාරදාහයි. පළලින් යොදුන් අසූහාරදාහයි. මහා සමුදුරෙන් උඩට අසූහාරදාහක් තියෙනවා. මහා සමුදුරෙන් යටට අසූහාරදාහක් තියෙනවා, සෙමේරු පර්වතරාජයා. අපි ඒකට තමයි මහාමේරු පර්වතය කියලා කියන්නෙ. මහණෙනි යම් හෙයකින් බොහෝ වසර ගණනක් බොහෝ වසර සිය ගණනක්, බොහෝ වසර දහස් ගණනක් බොහෝ වසර ලක්ෂ ගණනක් වැස්ස නොවසී නම් එබඳු කාලයක් ඇත්තේය, මේ අනාගත කාලෙ ගැන කියන්නෙ. කාලයක් එනවා අවුරුදු සිය ගණන් දහස් ගණන්, ලක්ෂ ගණන්, අවුරුදු කෝටි ගණන් වහින් නෑ. අවුරුද්දක්, දෙකක්, තුනක්, හතරක්, පහක්, හයක්, හතක්, අටක්, නවයක්, දහයක්, වැස්සෙ නැත්නම් කොහොම තියෙයිද. අවුරුදු ලක්ෂ ගණන් වහින්නැති කාලයක් එනවා. මෛත්‍රී තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලෝකයේ පහළ වෙලා පින් තියෙන විමුක්තියට කැමැති, විමුක්තිය පිණිස කුසල් වඩපු ඒ සත්ත්වයන් සංසාරෙන්

එතෙර කරවලා පිරිනිවන් පා වදාරනවා. ඉන් අවුරුදු මෙච්චරයි කියන්න බැරි කාලයක තමයි මෙන්න මේ කියන කාරණාව සිද්ධ වෙන්නෙ. උපමාවකට ගත්තොත් මේ මහා භද්‍ර කල්පය කොටස් හයකට බෙදුවොත් එයින් පළවෙනි කොටස් දෙකේ තමයි කකුසඳ, කෝණාගමන, කාශ්‍යප, ගෞතම, මෛත්‍රී කියන තථාගතයන් වහන්සේලා පස් නමම පහළ වෙන්නෙ. එවැනි වූ කාල තව දෙගුණයක්, ඒ කියන්නෙ කොටස් හයෙන් කොටස් දෙකක තමයි බුදුවරු පස් නමම පහළ වෙන්නෙ. තව කොටසක් හතරක් තියෙනවා බුදුවරු නැතිව, ආන්න ඒ කාලෙත් ගෙවුනට පස්සෙ බොහෝ කාලයක් ගෙවුනාට පස්සෙ අවුරුදු ලක්ෂ ගණන් එනවා වැස්ස නෑ. මහණෙනි වැස්ස නොවසින කල්හි යම්කිසි මේ පැළවෙන ගස් කොළං, ඖෂධ, තෘණ, සුවිශාල වෘක්ෂ ආදිය ඇත්ද, ඒවා වියළීයනවා. දරුණු ලෙසින් වියළී යනවා. පින්වත් මහණෙනි, මිහ මඬලේ කොළපාට තණකොළ ගහක් හටගන්නෑ. කිසිම වෘක්ෂයක් හටගන්නෑ. මිනිස්සු ගැන කවර කතාද. එවං භික්ඛවෙ අනිච්ඡා සංකාරා, සංස්කාරයෝ අනිත්‍යයි. අද්වා භික්ඛවෙ සංකාරා, අස්ථිරයි. අනස්සාසිකා භික්ඛවෙ සංකාරා, අස්වැසිලි රහිතයි. කොළ පාට කියන එක ලෝකෙන් අතුරුදහන් වෙනවා. අවුරුදු ලක්ෂ ගණන් වහින්නැති කාලයක් එනවා. කෝ දැන් මහපොළොව බදාගත්ත අය. කෝ ඉඩකඩම් බදාගත්ත අය. කෝ වැටකඩුළු ගහපු අය. කෝ නඩු කියපු අය. අලමෙව සබ්බ සංකාරෙසු නිබ්බින්දිතුං, මේකම කල්පනා කරලා කරන්න වටිනවා කියනවා අවබෝධයෙන්ම කළකිරෙන්න. අලං විරජ්ජිතුං, නොඇලීම පිණිස. අලං විමුච්ඡිතුං, නිදහස් වීම පිණිස. මම සරණ ගිය මගේම බුදුරජාණන් වහන්සේ මේවා බුද්ධ නේත්‍රයෙන් දුටුවා. සර්වඥතා ඥාණයෙන් අවබෝධ කලා. බුදුරජාණන් වහන්සේ මේ සියල්ල දැක දැකමයි මේ දේශනා කරන්නෙ. මොකටද අපි මේ ලෝකයක් බදාගෙන, මොකටද මේ ලෝකෙකට අපි ඇලි ඇලී, මොකටද මේ ලෝකෙකට අපි ආශා කර කර. මේ වාගේ අනිත්‍ය ස්වභාවයක් ප්‍රකට වෙද්දිනුත් මේ තුච්ඡ වූ අවිද්‍යාවෙන් වැසුණු අන්ධ බාල හිත ආයෙත් මේ ලෝකෙට ආසා කරනවා. ජේන රූපෙට, ඇහෙන ශබ්දෙට, ගඳ සුවඳට, රසයට, පහසට, හරියට පැණි භාජනයකට එන ඇඹලයෙක් වාගේ මේ හිත විසින් කාමයම වැළඳගන්නවා. අපිට නිදහස් වෙන්න ඕන, නිදහස් වෙන්න ඕන, නිවන් දකින්න ඕන, නිවන් දකින්න ඕන කියලා මේ අනිත්‍ය වූ සංස්කාරම බදාගන්නවා මම, මගේ, මගේ ආත්මය කියලා. ඒ බදාගත්ත දේවල්වලම මලපෙරේතයො වෙලා උපදිනවා. පාංශු පිසාචයො වෙලා උපදිනවා. මෙහෙමත් සංසාරෙක යනවා අපි, අහෝ මෙහෙම සංසාරයක්.

පින්වත් මහණෙනි, කදාචි කරහචි, යම් දීර්ඝ කාලයක් ඉතාමත් දීර්ඝ කාලයක් ගියාට පස්සෙ ඔහොම වැස්ස නැතිව අවුරුදු කෝටි ප්‍රකෝටි ගාණක් ගියාට පස්සෙ පින්වත් මහණෙනි, දෙවැනි සූර්යයෙක් පහළ වෙයිද, එබඳු කලක් ඇත්තේය. පින්වත්නි දෙවෙනි ඉරමඩලක් පායනවා. ආකාසෙ තවත් ඉරක් පේන්න ගන්නවා. මහණෙනි, දෙවෙනි සූර්යයාගේ පහළ වීමෙන් යම් ඒ කුඩා නදීහු, කුඩා විල් ආදිය ඇත්නම් ඒවා වියළී යනවා, දරුණු ලෙස වියළී යනවා. ඒවා නොවෙති. ඒ කියන්නෙ ගඟක් කියලා කතාවක් නෑ. ඒ කුඩා ගංගා කියලා කියන්නෙ ලංකාවෙ නම් සියලුම ගංගා. මහා ගංගා කියන්නෙ දැන් ඉදිරියට අපි ඒ කතාව එනවා, විශාල දිග පළලකින් යුක්ත ගංගා වල දිය සීරා හිටිනවා පළවෙනි, ඒ කියන්නෙ වැස්ස නැතත්. දෙවෙනි ඉර මඩල පායනකොට නම් පුංචි ගංගා විල් සියල්ලගෙම ජලය ඉවරයි. එතකොට මහවැලි, කැළණි, කළු, වලවේ නැත. ඒවා නෑ, කොළ පාට නෑ. කැකෑරී තිබ්බ වතුර නෑ, දෙවෙනි ඉරමඩල පායනකොට. අනිච්ඡා භික්ඛවෙ සංකාරා. බලන්න පින්වත් මහණෙනි, සංස්කාරයො අනිත්‍යයි. සියලු සංස්කාර අනිත්‍යයි. අධුවා භික්ඛවෙ සංකාරා, අස්ථිරයි. අනස්සාසිකා භික්ඛවේ සංකාරා. සියලු සංස්කාර ධර්මයො අස්වැසිලි රහිතයි. අලමෙව සබ්බ සංකාරෙසු නිබ්බින්දිතුං අලං විරජ්ජිතුං අලං විමුච්ඡිතුන්ති, අවබෝධයෙන්ම කල්පනා කරලා නොඇලෙන්න වටින් නැද්ද. මේ කළකිරෙන්න වටින නැද්ද, නොඇලෙන්න වටින් නැද්ද, නිදහස් වෙන්නමයි වටින්නෙ. දැන් කෝ ගංගා වනරොදවල් උද්‍යාන ඒවා බැලිලි තියෙනවාද. මනුස්සයා ඒවා බලලා සතුටු වෙන ලෝකෙ අතුරුදහන් වෙනහැටි බලන්න. සීතල පැන් නාලා ගඟේ දොලේ වෙල් ඉපනැල්ලේ නටන මිනිස්සුන්ගේ සංස්කාර අනිත්‍ය වී යන හැටි බලන්න. මස් කැසබු දිය සතුන්ගේ ලෝක අතුරුදහන් වී යන හැටි බලන්න. අනිත්‍ය වී යන හැටි බලන්න. අපේ මේ ළිඳේ, දොළේ, ඇලේ වතුර ටිකට ඒ සොච්චමට වෙන දේ බලන්න. අනිත්‍ය වී යන හැටි බලන්න. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ දේශනා කලා මහණෙනි, යම්හෙයකින් දීර්ඝ කාලයක් ඇවෑමෙන් යම්කිසි කාලයක තුන්වෙනි හිරු මඩලක් ලෝකෙ පහළ වෙනවා. පින්වත්නි, මේ ආකහේ ඉරවල් දෙකක් මදිවට තුන්වෙනි ඉරකුත් පහළ වෙනවා. අහසේ ඉරමඩලවල් තුනක්. ආකහේ ඉරමඩලවල් තුනක්. ඒ තුන්වෙනි ඉරමඩලක් පහළ වුනාද, අන්න ඒ කාලෙ පින්වත් මහණෙනි, මහා නදීහු ඇත්ද, එහෙනම් ගංගා, යමුනා, අචිරවතී, සරභූ, මහී මහා ගංගා වල දිය සීරා ඉතුරු වුනානෙ. ඒ ඔක්කොම දරුණු ලෙසින් වියළී යනවා. ඊළඟට ඒ වගේ ගංගා නැති බවට පත්වෙනවා. දැන් එහෙනම් ගංගා කියලා කතාවක් මේ පෘථිවි තලයේ නෑ.

තුන්වෙනි හිරුමඩල පෑව්වට පස්සෙ යම්තාක් ගංගා තිබ්බද මුළු පෘථිවියේම සියල්ලම අතුරුදහන්. අයිස් කඳු නැත. අයිස් කියලා එකක් ලෝකෙ නැත. කොහොම ඇතිද. බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් මහණෙනි, තවත්, ඒවං භික්ඛවේ අනිච්ඡා සංකාරා, මේ විදියට පින්වත් මහණෙනි, අනිච්ඡා භික්ඛවෙ සංකාරා. සියලු සංස්කාරයො අනිත්‍යයි. අධුවා භික්ඛවෙ සංකාරා, අස්ථිරයි. අනස්සාසිකා භික්ඛවේ සංකාරා, සියලු සංස්කාරයෝ අස්වැසිලි රහිතයි. පිහිටක් නෑ. අලමෙව සබ්බ සංකාරෙසු නිබ්බින්දිතුං මේවා කල්පනා කරන්න කියලා වදාළා. පින්වතුනි මේ ඔක්කොම නැති වෙලා යනවානෙ. නොඇලෙන්නමයි, කලකිරෙන්නමයි වටින්නෙ. නොඇලෙන්නමයි වටින්නෙ, නිදහස් වෙන්නමයි වටින්නෙ. බඹයක් වූ ශරීරය ගැන නෙවෙයි මේ කියන්නෙ. ගණකඩ බොල් මහපොළොව, මේ මහා පෘථිවියට වෙන විනාශය මේ කියන්නෙ. අහෝ, ගණකඩ බොල් මහාපොළොවට මේ සා අනිත්‍යයක්, මේ සා අස්ථිර බවක් වෙනවා නම් බඹයක් වූ මේ ශරීරය ගැන කවර කතාද. ඩිංගිත්තක් වූ ජලය තියෙන මේ ශරීරය ගැන කවර කතාද. ඩිංගිත්තක් වූ පැහැය තියෙන මේ ශරීරය ගැන කවර කතාද. අපිට මේවා හිතෙන් නැත්තෙ ඇයි? ඇයි අපි කල්පයක් ඉන්න වගේ මේ කටයුතු කරන්නෙ. මේ ලෝක සත්ත්වයා තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ නොගිය නිසා. මේ වූ ශ්‍රී සද්ධර්මය සරණ නොගිය නිසා. මේ වූ සසරෙන් නිදහස්ව මහරහතන් වහන්සේලා සරණ නොගිය නිසා. මෙවැනි වූ බණපදයක් වත් අහන්න නෑ මේ ලෝක සත්ත්වයාට. නමුත් පින්වත්නි ඒ අතර ඔබට යාන්තම් බුදු කෙනෙක්ගේ බණපදයක් මේ විදියට ඇහෙනවා. ඔබ කොයිතරම් වාසනාවන්තයිද අද ලෝකෙ හැටියට. ඉතින් මේවම කල්පනා කරන්න වටිනවා කියනවා නොඇලෙන්න. කළකිරෙන්න, නොඇලෙන්න, නිදහස් වීම පිණිස. මහණෙනි, යම්කිසි දීර්ඝ කාලයක් ඇවෑමෙන් යම්කිසි බොහෝ කාලයක් ඇවෑමෙන් සිව්වෙනි හිරුමඩලක් පහළ වෙනවා. බලන්න පින්වත්නි මේ ලෝකයේ යම් දවසක් එනවා ආකහේ ඉරමඩලවල් හතරක් පහළවෙනවා. කොහොමනම් මේවා ගැන හිතකින් හිතාගන්නද. කොහොම නම් චිත්ත රූපයක් මවා ගන්නද. නමුත් ලොව්තුරා තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ දිවැසින් දුටුවා, සර්‍වඥතා ඥාණයෙන් අවබෝධ කොට වදාළා, ලෝකය දකින නුවණින් අවබෝධ කොට වදාළා. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේ මේ සියල්ල අනිත්‍යය වශයෙන් අස්ථිර වශයෙන්, අස්වැසිලි රහිත වශයෙන් අවබෝධ කලා. පින්වත් මහණෙනි, මේ හතරවෙනි හිරු මඩල ලෝකයේ පහළ වුනාද, ආන්න

එදාට මේ ලෝකයේ හිමාලය මුල් කරගෙන මහා විල් තියෙනවා. ඒවා විල් කිලෝමීටර් ගණන්, යොදුන් ගණන් විශාල විල්. කුමක්ද ඒ විල්? අනවතප්ත, සීහප්‍රපාත, රථකාර, කණ්ණමුණ්ඩ, කුණාල, ඡද්දන්ත, මන්දාකිණි සප්ත මහා විල් කියලා කියන්නෙ. මොකක්ද ඒ මහාවිල් හත, අනවතප්ත, සීහප්‍රපාත, රථකාර, කණ්ණමුණ්ඩ, කුණාල, ඡද්දන්ත, මන්දාකිණි. ඒ මහා විල් වියළී යනවා. දරුණු ලෙසින් වියළී යනවා. විල් නැහැ ලෝකෙ. දැන් මහා සාගරයේ තියෙන දිය කළදක් හැර මේ පෘථිවි මණ්ඩලයේ වතුර අතුරුදහන් වී යනවා. හතරවෙනි ඉර පෑව්වට පස්සෙ, මිනිස්සු ගැන සත්ත්වයෝ ගැන කවර කතාද. අනිච්ඡා භික්ඛවෙ සංකාරා, සංස්කාරයො අනිත්‍යයි. අධුවා භික්ඛවෙ සංකාරා, සියලු සංස්කාරයො මේ හේතුඵල දහමින් හටගත්ත හැමදෙයක්ම අස්ථිරයි. අනස්සාසිකා භික්ඛවෙ සංකාරා, අස්වැසිලි රහිතයි, පිහිටක් නෑ. ඒවං අලමෙව සබ්බසංකාරෙසු නිබ්බින්දතුං, මේ සියලු සංස්කාරයන් ගැන කළකිරෙන්න වටින්නෙ, නොඇලෙන්න වටින්නෙ, නිදහස් වෙන්න වටින්නෙ. බලන්න පින්වතුනි අනිත්‍යය කියන එක. පින්වත් මහණෙනි, යම් හෙයකින් දීර්ඝ කාලයක් ගියාට පස්සෙ දීර්ඝ කාලයක් ඇවෑමෙන්, බොහෝ කාලයක් ඇවෑමෙන් පස්වෙනි හිරු මඩලක් ලෝකයට පහළ වෙනවා. පින්වත්නි මේ ආකහේ ඉර මඩලවල් පහක් පේන්න ගන්නවා. වළාකුළු නැති ආකාසයේ සරත් කාලයේ ගස් කොළං නැති තැනක හිරු එළියේ තියෙන චණ්ඩ බව දෙස බලන්න. එවැනි එක හිරු මඩලක සැඩ බව එසේ නම් සීතල සුළඟ වනරොද, ජලය තිබෙද්දී, ඒ සියල්ල අතුරුදහන් වූ සමයේ හටගන්නවා නම් ඉරමඩලවල් පහක් ආකහේ පේනවා නම් ඒ යුගය කොහොම එකක් වෙන්න ඇතිද. පින්වත් මහණෙනි, පස්වෙනි හිරු මඩල ලෝකයේ පහළ වුනාට පස්සෙ මේ ගණකඩ මහා බොල් පොළොවේ ගැඹුරට ඉතාමත් ගැඹුරට විහිදී තිබෙන මහා සාගර තියෙනවා නෙව, ඒ සාගරය යොදුන් ගණන් සිඳි සිඳී යනවා. අවසානයේ තල් ගස් ගණනට සිඳි සිඳී යනවා. තල් ගස් හතක්, හයක්, පහක්, හතරක්, තුනක්, දෙකක්, එකක්. මහා සමුද්‍රයේ පුරුෂයො හත්දෙනෙක්ගේ උසට ජලය හිඳෙනවා. හය දෙනෙක්ගේ උසට, පස් දෙනෙක්ගේ, හතර දෙනෙක්ගේ, තුන් දෙනෙක්ගේ, දෙන්නෙක්ගේ, එක පුරුෂයෙක්ගේ උසට. පුරුෂයෙකුගේ ඉණ ගාණට, දණහිස ගාණට, ගොප් ඇටයේ ප්‍රමාණයට. කකුලේ ගොප් ඇටයේ ප්‍රමාණයට වතුර මහා සාගරයේ. මහණෙනි, සරත් කාලයේ මහත් දිය පොද ඇති වැසි වසිනා කල්හි වැසි ජලය ඒ ඒ තැන ගව කුහරයන්ගෙන් සෑදුනු වලවල් වල රැඳී ඇත්තේ යම් සේද, පින්වත්නි සරත් කාලයේ හරක් පාරෙ යනකොට ඒ කුර පොළොවේ

හිටිනවානෙ. එතකොට ඒ හිටින ඒවගේ වතුර පොඩ්ඩ පොඩ්ඩ තැන් තැන්වල ගව කුරවල හිටලා තියෙන්නෙ පොළොවේ. ආනන්ද ඒ වගේ. මේ මහා පොළොවේ වතුර සිඳිලා සිඳිලා කකුලේ ඇඟිලි පුරුකක් ප්‍රමාණයක ජලයකුත් මහා සාගරයේ නෑ. ඇඟිල්ලක නියපොත්තක් තෙමාගන්න වතුර ටිකක් මහා සාගරයේ නැත, පස්වෙනි හිරුමඬල පෑයූ කල්හි. මහා තෙද බල පෙන්වාගෙන ගොඩබිම් යටකරගෙන යොදුන් ගණන් මහා සත්ත්වයන්ගේ තටාකය වූ ඒ මහා සාගරය නියපොත්තක් තෙමාගන්න වතුරක් නැතිව යනවා, පස්වෙනි ඉර පෑව්වයින් පස්සෙ. බලන්න මේ ලෝකයේ තියෙන සංස්කාරයන්ගේ අනිත්‍යය දෙස. අස්ථිර බව. පිහිටක් නැති බව. මේවා නුවණින් කල්පනා කරලා ඇයි කළකිරෙන්නේ නැත්තෙ. ඇයි නුවණින් නොඇලී වාසය කරන්නැත්තෙ. ඇයි නිදහස් වෙන්නැත්තෙ. කළකිරෙන්නමයි වටින්නෙ. නොඇලෙන්නමයි වටින්නෙ. නිදහස් වෙන්නමයි වටින්නෙ. භාග්‍යවතුන් වහන්සේ වදාළා යම් හෙයකින් දීර්ඝ කාලයක් ඇවෑමෙන්, අතිශයින් දැන් ඔය අද ඉරපායලා හෙට දෙවෙනි ඉර, අනිද්දා තුන්වෙනි ඉර නෙවෙයි. කදාචි කරහචි, කවදාහරි දවසක, බොහෝ කාලයක් ගියාට පස්සෙ. අවුරුදු සිය දහස් ගාණක්. කෝටි ගාණක් ගියාට පස්සෙ තමයි එහේම්මම පහළ වෙනවා ඉරක්. මේ ඔක්කෝම වෙද්දි අපි සංසාරෙ. මේ අනාගතයට වෙනවා කියන්නෙ අපි කලින් කල්පයක් ඉවර වෙලා අපි කියන්නකො අපි කියනවානෙ බුද්ධ වචනයට අනුව ගංගා නම් ගඟේ ආරම්භයේ පටන් මුහුදට වැටෙන තැන දක්වාම වැලි කැට ගාණ ගණන් කරන්න පුලුවන්, ගෙවුනු සංසාරෙ කල්ප ගාණ ගණන් කරන්න බෑ කියන්නෙ. හැම කල්පෙකම අවසානෙ මේ විදියට ගින්නෙන්, ජලයෙන්, සුළඟෙන් කොහෙන්හරි විනාශ වෙනවානෙ. මේ වාගේ විනාශ වලට මුහුණ දුන්නු ගාණ අපිට ගණන් කරන්න බෑ. නමුත් පොළොවේ වැලිකැට ගණන් කරන්න පුලුවන් වෙයි. ගංගා නම් ගඟේ වැලි කැට ගාණ ගණන් කරන්න පුලුවන් වෙයි. ඒත් මේ වගේ විනාශ කීයකට සසරේ අපි මුහුණ දුන්නාද යන වග ගණන් කරන්න බෑ, අපිට හුරු පුරුදු නෑ වගේ. අලුත් වගේ. තව දේවල් කරන්න තියෙනවා වගේ, තව සැපය විඳින්න තියෙනවා වගේ. අපි කාමය හොයාගෙන ආයෙ ආයෙ උපතක් පතනවා. ආයෙත් සසරටම යනවා. බලන්න, මේ හැමදෙයක්ම අනිත්‍යය වෙවී යනහැටි. මහණෙනි, බොහෝ කාලයක් ගියාට පස්සෙ, ගොඩාක් කාලයක් ගියාට පස්සෙ හයවෙනි හිරු මඬල ලෝකයේ පහළ වෙනවා. පින්වත්නි, මේ ආකාසේ ඉරමඬලවල් හයක්, කොයි කොයි තැන්වලින් පේනවද දන්නෑ, ඒ චණ්ඩ සූර්යයෝ වඩාත් දරුණු වෙලා, වඩාත් උග්‍ර වෙලා, වඩාත් තේජස් වෙලා

හිරු කිරණ පතුරවනවා. ඉර මඩලවල් හයයි. පින්වත් මහණෙනි, සයවෙනි හිරු මඩල ලෝකයේ පහළ වුනාද මේ මහා පෘථිවිය සිනේරු පර්වත රාජයා දුම් දමන්නේය. අර යොදුන් අසූහාරදාහක් පළල, යොදුන් අසූහාරදාහක් ඝනකම, යොදුන් අසූහාරදාහක් උඩ, යොදුන් අසූහාරදාහක් යට, තියෙන සිනේරු පර්වත රාජයා දුමායන්ති, දුම් දාන්න පටන් ගන්නවා. අතිශයින් දුම් දාන්න පටන් ගන්නවා. බලවත්ව දුම් දමනවා. පින්වත් මහණෙනි, මේ මහා පෘථිවිය දුම් දාන්න පටන් ගන්නවා. පොළොවම මෙහෙම දුම. බලවත්ව, අතිශයින්. උපමාවක් කිව්වොත් පින්වත් මහණෙනි, කුඹල් කරුවෙක් උදුනක ගිනි දල්වන්නේද පළමු පළමු දුම් දමයි, බලවත්ව දුම් දමයි, කුඹල්කරුවෙක් උදුනක් හදලා යම්කිසි දෙයක් ඒකෙ ගිනි දානකොට දුම් දාන්නෙ මැටි වලින්, බලවත්ව දුම් දාන්නෙ. ආන්න ඒ වගේ දුම් දමන්න ගන්නවා. සිනේරු පර්වත රාජයාත් මහා පෘථිවි මණ්ඩලයත් දුම් දම දමා බලවත්ව දුම් දම දමා තියෙනවා. මහණෙනි, බලන්න අනිච්චා භික්ඛවේ සංකාරා, අනිත්‍යයි මේ සංස්කාරයො. අධුවා භික්ඛවෙ සංකාරා, අස්වැසිල්ල රහිතයි මේ සංස්කාරයො. අනස්සාසිකා භික්ඛවෙ සංකාරා, මේ හේතුඵල දහමින් හටගත්ත මේ හැමදෙයක්ම, කුමක්ද සංකාර කියන්නෙ, ඇසත් ඇසට පෙනෙන රූපයත්, කණත් කණට ඇහෙන ශබ්දයත්, නාසයත් නාසයට දැනෙන ගඳ සුවඳත්, දිවත් දිවට දැනෙන රසයත්, කයත් කයට දැනෙන පහසත්, මනසත් මනසට එන අරමුණුත්. හේතුඵල දහමින් හටගත්ත පඨවි ආපෝ තේජෝ වායෝ සතර මහා ධාතුන්ට වෙන දේ දෙස බලන්න. දුම් දම දමා සය වෙනි හිරුමඩලෙන් තැවෙන හැටි, හිරු මඩලවල් හයකින්. පෘථිවියේ හැම පැත්තකින්ම ඉර පායලා, දුම් දානවා. මේවා කල්පනා කරන්න කියනවා, සංස්කාරයන් ගැන කළකිරෙන්න කියනවා. නොඇලෙන්න කියනවා, නිදහස් වෙන්න කියනවා. මහණෙනි, බොහෝ කාලයක් ගියාට පස්සෙ අතිශයින් දීර්ඝ කාලයක් ගියාට පස්සේ තවත් හිරු මඩලක් ලෝකෙ පහළ වෙනවා. එතකොට මේ ආකහේ කොහේ කොහේ හරි තැන්වල හිරු මඩලවල් හතක් පේනවා. ඒ ඉර මඩලවල් හත පෑව්වට පස්සෙ පින්වත් මහණෙනි, මේ මහා පෘථිවියද, සිනේරු පර්වත රාජයා ද ගිනි ගන්නවා. පජ්ජරති, ඇවිලෙනවා, ගිනිගන්නවා. එකම ගිනි ජාලාවක් බවට පත්වෙනවා. ගිනි කඳක් පේන්නෙ. පින්වත් මහණෙනි, මේ පෘථිවියටත් සිනේරු පර්වත රාජයාටත් ගිනි ගන්නේ දැල්වෙන්නෙ සුළඟින් උඩ ඇදෙන ගින්න බ්‍රහ්මලෝකය දක්වා යනවා ගින්දර. බ්‍රහ්ම ලෝකයේ ඉඳලා පෘථිවියට විශාල ගල් පර්වතයක් අතැරියොත් එහෙම බ්‍රහ්ම ලෝකෙ ඉඳලා පොළොවට ඒ ගල පතිත වෙන්න

මහා විශාල ගල් පර්වතයක්, අපේ සීගිරිය වගේ දහ ගුණයක් විතර විශාල ගලක්, බ්‍රහ්ම ලෝකෙ ඉඳලා අතෑරියොත් මේ පොළොවට වැටෙන්න මාස හතරක් යනවා කියනවා. එච්චර උඩ. එච්චර උඩකට යනවා කියනවා මේ පෘථිවියේ ගින්දර. කොහොම වෙයිද කියලා හිතන්නකෝ. පින්වත් මහණෙනි, ගිනි ගන්නා කල්හි දැවෙන කල්හි, වැනසෙන කල්හි ඒ මහා ගිනි කඳින් මැඩෙන්නා වූ සිනේරු පර්වත රාජයාගේ යොදුන් සිය ගණන් උසැති, යොදුන් සිය දහස් ගණන් උසැති, යොදුන් දෙසිය ගණන් උසැති, යොදුන් තුන්සිය ගණන් උසැති, යොදුන් හාරසිය ගණන්, පන්සිය ගණන් උසැති, ඒ කඳු විනාශ වෙවී වැටෙනවා. ගිනිගෙන වැටි වැටී යනවා. වැටෙනවා ගිනිගන්නවා. ගිනිගන්නවා වැටෙනවා. ඇවිලෙන්නා වූ දැවෙන්නා වූ මහපොළොවෙහිද සිනේරු පර්වත රාජයාගෙන්ද, අළු හා දැලි නොපෙනේ. කොච්චර පිච්චෙනවාද කියනා නම් අළුයි දැලියි පේන් නෑ, පින්වත් මහණෙනි, ගිනිගෙන දැවෙන ගිතෙලක හෝ තෙලක හෝ අළු හෝ දැලි හෝ නොපෙනෙන්නේ යම් සේද, කපුරු පෙති වල ගිනිගත්තට පස්සෙ අළුවත් දැලිවත් ඉතුරු වෙන් නැත්තෙ, ආන්න ඒ වගේ පොළොවේත් සිනේරු පර්වත රාජයාගේත් අළුත් නැත, දැලිත් නැත. පෘථිවියත් නැත. මහා පොළොව නැත. කෝ නඩු කියපු අය. කෝ අයිතිවාසිකම් ඉල්ලපු අය. කෝ අපේ රාජ්‍යය අපේ රාජ්‍යය කියලා පොර කෑව අය කෝ. යුද්ධ කරපු අය කෝ. යටිකූට්ටු වැඩ කරපු අය කෝ. දේශ සටන්, රාජ්‍යය සටන්, පළවෙනි ලෝක යුද්ධෙ දෙවෙනි ලෝක යුද්ධෙ තියෙනවා යැයි කියන තුන්වෙනි ලෝක යුද්ධය කෝ. කෝ ගිවිසුම්. කෝ රටබෙදිලි. කෝ ලෝකය බෙදිලි. කෝ ධනපති පන්තිය. රාජ්‍යයක් නැගී හිටිනවාට අනිත් රාජ්‍යය විරුද්ධකම් කෝ. පෘථිවියත් නැත. ඒවං අනිච්ඡා භික්ඛවේ සංකාරා, සංස්කාර ධර්මයෝ අනිත්‍යයි. අනස්සාසිකා භික්ඛවෙ සංකාරා, අස්වැසිලි රහිතයි. අධුවා භික්ඛවෙ සංකාරා, ස්ථිර නෑ මේවා. කොහොමද, මේකම වටිනවා කියනවා කල්පනා කරන්න මේ සසරට කළකිරෙන්න, ජීවිතේට කළකිරෙන්න. මේකම ඇති කියනවා හරියට කල්පනා කලොත් නොඇලීම පිණිස. මේකම ඇති කියනවා කල්පනා කලොත් නිදහස් වෙන්න සංසාරෙන්. අපි ගැන කවර කතාද. මේ කියන්නෙ අපි ගැන නෙවෙයි. මහා පෘථිවිය ගැන. මහා පෘථිවියකට මෙසේ වන්නේ නම්, බඹයක් වූ අපේ ජීවිතේට, අපේ ජීවිතේට ලෝක විනාශෙ අවුරුදු පනහෙන් හැටෙන් හැත්තෑවෙන් වෙනවා. ඒකට ඉර මඩලවල් හතක් පායන්නත් ඕන නෑ. එකම ඉර මඩලෙන්ම මිනිස්සු මැරි මැරී යනවා. සත්ත්වයෝ මැරී මැරී යනවා. අතහැර අතහැර යනවා. බුදුරජාණන් වහන්සේ වදාළා මහණෙනි, එහිලා මේ මහා

පෘථිවියත් සිනේරු පර්වත රාජයාත් ගින්නෙන් දැවෙන්නේය, වැනසෙන්නේය, නොවන්නේය. ගින්නෙන් දැවෙනවා, වැනසෙනවා, පෘථිවිය නැතිවෙනවා කියන කරුණ, මාර්ග ඵල ලාභීන් හැර වෙන කවරෙක් නම් කතා කරන්නට සමත් වේද. කවරෙක් නම් විශ්වාස කරන්න සමත් වේද. මේ වගේ දේවල් කතා කරන්නවත් පුලුවන් වෙන්නෙ මාර්ගඵල ලාභීන් එක්ක කිව්වා. හේතුව, මම මගේ මගේ ආත්මය කියලා නිත්‍යයි සුඛයි ආත්මයි කියලා ලෝකය ග්‍රහණය කරගෙන ඉන්න මිනිස්සුන්ට මේක ස්වප්නයක්. මේක සුරංගනා කතාවක්. මිනිස්සුන්ට මේක අලුත් කාටූන් කතාවක් වගේ. හිතන්නවත් බෑ. එනමුත් මාර්ගඵල ලාභී කෙනාට බුදුරජාණන් වහන්සේගේ ආර්ය ශ්‍රාවකත්වයට පත්වෙච්චි කෙනාට මේ සම්බන්ධයෙන් බොහෝ දේවල් කතා කරන්න පුලුවන්. පිරිනිවන් වඩින ගමනේ මගේ බුදුරජාණන් වහන්සේත් එක්ක වැඩිය සියලු සංඝයා අතරින් අවම කෙනත් සෝතාපන්නයි. බුදුරජාණන් වහන්සේට ඕන තරම් ධර්මය කතා කරන්න පුලුවන්. දිට්ඨි සම්පන්න පුද්ගලයෙක් ගැන කවුරු විශ්වාස කරයිද ඇහුවා මේ පෘථිවිය නැතිවෙනවා කියන එක. නමුත් ඇත්තටම වෙනවා. විශ්වාස කරන්න පින්වත්නි, අදහගන්න, භාග්‍යවතුන් වහන්සේගේ අවබෝධය. අපි සරණ ගිය තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඒ සා ඥාණයෙන් යුක්තයි. ත්‍රෛකාලය දකින ඒ සා නුවණින් යුක්තයි. ඒ වගේම සංසාරේ යන සත්ත්වයාට සත්‍යය අවබෝධ කරවන මහා සත්‍යය වූ මුණීන්ද්‍රයන් වහන්සේයි අපි සරණ ගිය අපේම බුදුරජාණන් වහන්සේ. ලෝකයේ කිසිම ශාස්තෘන් වහන්සේ නමක්, ලෝකයේ කිසිම ආගමික නායකයෙකුට මේ සනාතන සත්‍යය නම් මුවකින් කියාගන්න බෑ. මේ බලන්න එක එක්කෙනාගේ කරුම කරගහන අයවත්, ලෝකය මවන අයවත්, එක එක්කෙනාගේ පව් බාරගන්න අයවත් කිසිවෙක් නැත. සියලුදෙනාම අනිත්‍යයි, අස්ථිරයි, අස්වැසිලි රහිතයි. මහණෙනි, කියන්නම් පෙර සිදු වූ දෙයක්. මේ ලෝකයේ පහළ වුනා සුනෙත්ත කියලා ආගමික නායකයෙක්, ශාස්තෘවරයෙක්. මේ සුනෙත්ත ශාස්තෘන් වහන්සේගේ ශ්‍රාවකයො සිය ගණන් වාසය කලා. සුනෙත්ත ශාස්තෘන් වහන්සේ තමන්ගේ ශ්‍රාවකයන්ට බ්‍රහ්ම ලෝක උප්පත්තිය ගැන, බ්‍රහ්ම ලෝකෙට යාම පිණිස දහම් දෙසුවා. බ්‍රහ්ම ලෝකෙ ඉපදීම පිණිස දහම් දෙසන සුනෙත්ත ශාස්තෘන් වහන්සේගෙන් යමෙක් සියල්ල සියලු අයුරින් දැනගත්තාද, ඔවුහු කය බිඳී මරණින් මතු සුගති සංඛ්‍යාත බ්‍රහ්ම ලෝකෙ උපන්නා. ඒ ඔහුගේ ශාස්තෘන් වහන්සේගේ ශිෂ්‍යයෝ ඒ කියපු බණ ඒ විදියටම පිළිපැද්දා නම් බ්‍රහ්ම ලෝකෙම ඉපදුනා. තව පිරිසක් පරනිම්මිත වසවර්තියේ,

තව පිරිසක් නිම්මාණරතියේ, තම තමන් තේරුම්ගත්ත විදිය අනුව, තව පිරිසක්, තුසිතයේ යාමයේ, තාවතිංසයේ, චාතුම්මහාරාජිකයේ ඉපදුනා. ඊළඟට ඒ බණ පද අහගෙන පාඩුවේ මොකුත් කරගන්න බැරිව හිටපු අය, නමුත් ඒවා අදහාගෙන රජකුලයේ බමුණු මහාසාර කුලවල ගෘහපති මහාසාර කුලවල ඉපදුනා. පින්වත් මහණෙනි, සුනෙත්ත ශාස්තෲන් වහන්සේට හිතුනා දැන් මගේ ශ්‍රාවකයොයි මමයි අපි ඔක්කොම එකම විදියට ධර්මය පුරුදු කරනවා. ඉතින් සම සම උපතකට දැන් අපි යන්නෙ. ඒක හොඳ නෑ, ඒ නිසා මම මෛත්‍රී ධ්‍යාන වඩන්න ඕන කියලා, මෛත්‍රී විහරණයෙන් මෛත්‍රී ධ්‍යාන වැඩුවා කියනවා අවුරුදු හතක්. පින්වත් මහණෙනි, අවුරුදු හතක් මෛත්‍රිය වඩපු පින් බලයට මේ වගේ පෘථිවිය නැසෙන වැනසෙන හැදෙන කාල හතක්, සංවට්ඨ විවට්ඨ කල්ප හතක්, බුදුරජාණන් වහන්සේ වදාළා මිනිස් ලෝකයට ආවෙ නෑ. ලෝකය නැසෙන කල්හි ආභස්සර ලෝකයට යනවා. ලෝකය හැදෙන කල්හි ශූන්‍ය වූ බ්‍රහ්ම විමානෙක උපදිනවා. මේ විදියට මහා බ්‍රහ්මයා වෙලා සියල්ල මැඩපවත්වාගෙන අනිත් අයට මෙයාව යටපත් කරන්න බැරි විදියට සියල්ල දක්නා සුලු ස්වභාවයෙන් වසඟය පවත්වන ස්වභාවයෙන් බ්‍රහ්මයෙක් වෙලා බ්‍රහ්ම ලෝකෙම හිටියා කියනවා සංවට්ඨ විවට්ඨ කල්ප හතක්. පින්වත් මහණෙනි තිස් හය වතාවක් සක්දෙවිඳු වෙලා ඉපදුනා කියනවා. පින්වත් මහණෙනි, මේ මහපොළොවේ සක්විති රජ වෙලා ඉපදුනා සප්ත රතනයන්ගෙන් සමන්විත මහා සක්විති රජවරු වෙලා ඉපදිලා තියෙනවා කියනවා, ඉතින් මේ සා දීර්ඝ කාලයක් සසරේ දුගතියකට වැටෙන් නැතිව හිටියා කියනවා අවුරුදු හතක් මෛත්‍රිය වඩලා. එනමුත් පින්වත් මහණෙනි, ඒ ශාස්තෲන් වහන්සේ ඔච්චර සුගතියේත් ඉඳලා එච්චර සුගතියේත් ඉඳලා, එකපාරක් දිව්‍ය ලෝකෙ ගිහිල්ලා නෙවෙයි, එකපාරක් බ්‍රහ්මලෝකෙ ගිහිල්ලත් නෙවෙයි, මෙච්චර සංවට්ඨ විවට්ඨ කල්ප හතක් බ්‍රහ්ම ලෝකෙ ඉඳලා, සක්දෙවිඳු වෙලා තිස් හය වතාවක්, සක්දෙවිඳුගේ ආයුෂ අවුරුදු තුන්කෝටි හැට ලක්ෂයයි. ඒක වැඩි කරන්න ඕන තිස් හයෙන්, එච්චර කාලයක් සක්දෙවිඳු වෙලා, වෙනත් දෙවිවරු වෙලා ඉඳලා කොච්චරද, සක්විති රජ වෙලා, එහෙම හිටපු සුනෙත්ත ශාස්තෲන් වහන්සේ, ඉපදීමෙන්, ජරා මරණයෙන්, ශෝක වැළපීම් දුක් දොම්නස් සුසුම් හෙළීම් වලින් නිදහස් වුනේ නෑ, සසර දුකින් නිදහස් වුනේ නෑ, සංසාර දුකින් නිදහස් වුන් නෑ. එච්චර සුගතියේ ඉඳලා. එතකොට හිතන්නකො මේ අනිත්‍යය ගැන කියන්නෙ. මේ ජීවිතේම ජීවිතේට පිළිසරණ හදාගන්න එක ගැන කියන්නෙ මේ. අපිට හිතෙනවානෙ එක පාරක්

දිව්‍යලෝකෙ ගිය පමණින් මේ ඔක්කොම ඉවරයි කියලා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඇයි මේ සසර යන්නෙ මේ. ඇයි මේ සසර යන්නෙ. පින්වත් මහණෙනි, කාරණා හතරක් ප්‍රතිවේද නොකිරීම නිසා. කුමක්ද ඒ කාරණා හතර. ආර්ය වූ සීලය, ආර්ය වූ සමාධිය, ආර්ය වූ ප්‍රඥාව, ආර්ය වූ විමුක්තිය අවබෝධ නොවීම නිසා. මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය මනාව පුරුදුකරපු නැති නිසා. පින්වත් මහණෙනි, එම ආර්ය සීලය මාවිසින් අවබෝධ කරන ලද්දේය. මම ඒ අය සසරට වැටුනේ ආර්ය සීලය, ආර්ය සමාධිය, ආර්ය ප්‍රඥා විමුක්තිය අවබෝධ නොකරපු නිසානෙ. මා විසින් ඒ ආර්ය සීලය අවබෝධ කලා. ප්‍රතිවේද කලා. ආර්ය සමාධිය අවබෝධ කලා, ප්‍රතිවේද කලා. ආර්ය ප්‍රඥාව අවබෝධ කලා ප්‍රතිවේද කලා. ආර්ය වූ විමුක්තිය අවබෝධ කලා, ප්‍රතිවේද කලා. භව තෘෂ්ණාව සින්දා තථාගතයන් වහන්සේ. භව රැහැන් ගෙවී ගියා. දැන් ආයෙ උපතක් නෑ, භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළා. බුදුරජාණන් වහන්සේ බලන්න ජීවිතේ අන් අයට අනිත්‍යය ස්වභාවය කියලා දීලා පින්වත් මහණෙනි, ශාස්තෲන් වහන්සේ නිදහස් වුනා. සීලං සමාධි පඤ්ඤාච විමුක්තිච අනුත්තරා අනුබුද්ධා ඉමෙධම්මා ගොතමෙ යසස්සිනො, ඒ ආර්ය වූ සීලයත්, සමාධියත්, ප්‍රඥාවත්, විමුක්තියත්, පැතිර ගිය කීර්තිය හා යසස ඇති ගෞතම නම් වූ අපගේ ශාස්තෲන් වහන්සේ අවබෝධ කලා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ මේ අවබෝධය ඇතිව දුක් කෙළවර කරන ධර්මය දේශනා කලා. ඒ බුදුරජාණන් වහන්සේ පවා පිරිනිවන් පා වදාළා. බුදුරජාණන් වහන්සේත් පිරිනිවන් පානවා. දැක්කද සසරට වෙන දේවල්. එකසිය තිස් හයක් අපායවල් වල ගින්න අභිබවා ගිය ගින්නක් උපදින හැටි කොහොමද සසරේ. එකසිය තිස් හයක් අපායවල් වල ගින්දරෙනුත් මහපොළොව පිච්චෙන් නෑ, කොහොමද කියලා හිතන්න, කල්පනා කරන්න, ඒ නිසා මේ අපේ ඩිංගිත්තක් පඨවි ධාතුව, ඩිංගිත්තක් ආපෝ ධාතුව, ඩිංගිත්තක් තේජෝ ධාතුව, ඩිංගිත්තක් වායෝ ධාතුවට නේද අපි මේ ඇලිලා ඉන්නෙ. මෙහෙමත් සංසාරයක්. මේ සොච්චමකට ඇලිලා නටන නාඩගම් ටික. උපදින කෙලෙස් ගොඩ. හිත් වල තියෙන නපුරුකම්. හිත් වල තියෙන නරක බව. පුදුම සහගතයි. හිතාගෙන ඉන්නවාද යම්කිසි කෙනෙක් මමය, මාගේ ය කියලා යම් දෙයක්, මගේ අපේ මට අයිති අපිට අයිති කියලා ඔබගේ හිතේ යම් සිතිවිල්ලක් තියෙනවා නම් ඒ හැමදෙයක්ම ඔබට අතහරින්න වෙනවා. අකමැත්තෙන් අතෑරලා යන්න සිද්ධ වෙනවා. ඒ නිසා කල්පනා කරන්න මොහොතකට හරි අනිත්‍යයි කියලා. මේවා වෙනස් වෙනවා මම, මගේ, මගේ ආත්මය නෙවෙයි කියලා. මේ අවබෝධ කරන්න ඔබව ගෙන

යන යානාව තමයි මේ උතුම් සම්බුදු සරණ. ඔබව මේ අවබෝද කරන නිර්වාණ රාජ්‍යයට ගෙනියන යානාව තමයි ශ්‍රී සද්ධර්මයේ සරණ. ආර්ය මහා සංඝරත්නයේ සරණ. තුණුරුවන් සරණ යන්න. දිවි තිබෙන තුරු, නිවන් දකින තුරු මම මගේ බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ඒ බුදුරජාණන් වහන්සේගේ මේ මධුර මනෝහර සත්‍ය වූ ශ්‍රී සද්ධර්මය මම සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මේ සසරෙන් නිදහස් වූ මේ කෙලෙස් ගිනි එන්න කලින්ම සසරෙන් නිදහස් වුනු මේ විනාශය එන්න කලින්ම ගිනි නිවාගත්ත රහතන් වහන්සේලා, ආර්ය මහා සංඝරත්නය මම සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් තිසරණය ඔබව සසර දුකින් නිදහස් කරත්වා කියලා අපි සෙත් ප්‍රාර්ථනා කරනවා.

ඉතින් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව, අද ලෝකය විනාශ වෙන හැටි කතා කලේ. ඊට කලින්ම අපේ ජීවිතේ විනාශ වෙවී යනවා. දැන් මේක අවබෝධ කරන්න ඇත්නම් කොච්චර දෙයක්ද. ඉතින් මේ උතුම් දහම් පණිවිඩය අද ඔබට රැගෙන ආවේ අංක 504/බී, 38 කොලනිය, පදවි පරාක්‍රමපුර ලිපිනයේ පදිංචි පින්වත් නිශාන්ති නිල්මිණී මහත්මිය ඇතුලු පවුලේ සියලු දෙනා. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. මියගිය ඥාතීන් මේ පින් බලයෙන් පරලොව සැපයට පත්වේවා. ඒ වගේම පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ ධර්මය අපිට දේශනා නොකරන්න, මේ විදියට සරල සිංහලෙන් පරිවර්තනය කරලා අපිට කියවන්න අහන්න දකින්න සලස්වන්නෙ නැතිවෙන්න අපිට මොනවා වෙයිද. උන්වහන්සේ අපිට ධර්මය කියලා දීලා අපි ධර්මයට පුහුණු කරවලා අපි ලවා උන්වහන්සේ මේ ධර්මය ලෝකයාට අදත් ධර්ම ප්‍රචාර කටයුතු වල උන්වහන්සේ යෙදෙනවා. ඒ නිසා පරම පූජනීය ගුරු දෙවිඳුන් නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂම ලබත්වා. ගුරු දෙවිඳුන් ඇතුළු සියලු සඟරුවන, සිල්මෑණිවරු, පැවිදි අපේක්ෂක දරුවන් නිවනින්ම සැනසෙත්වා. ඒ වගේම මේ පින්වතුන්ගේ ජීවත්ව සිටින කුසුමාවතී මෑණියන් සමීර ප්‍රියංකර මල්ලි, දිස්නා කුමාරි නංගීට, තරුෂ අභිෂේක් පුතාට, නිශාන්ති නිල්මිණී මහත්මියට නිදුක් නිරෝගී සුවපත් භාවය, ධර්මාවබෝධයම සැලසේවා. නිශාන්ති නිල්මිණී මහත්මිය ඇතුලු ඒ සියලු දෙනාට පවුලේ සියලු දෙනාට ශෞතම සසුනේ පිහිට ලැබේවා. ඒ වගේම කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරව සිටින සියලු දෙනා බුද්ධානුභාවයෙන්, ධම්මානුභාවයෙන්, සංඝානුභාවයෙන් වහා සුවපත් වේවා.

ඒ වගේම ඔබ අප කාටත්, හැදූ වැඩූ දෙමව්පියන්ටත් සියලු දෙනාට ශ්‍රද්ධා රූපවාහිනියෙන්, ලක්විරු ගුවන් විදුලියෙන් ධර්මය අහන සියලු දෙනාට, උතුම් චතුරාර්ය සත්‍යය ධර්මය අවබෝධ කරගෙන මේ දුක් විදින සංසාරෙන් නිදහස් වීමට මේ සංස්කාරයන්ගේ අනිත්‍ය ස්වභාවය සංස්කාරයන්ගේ අස්ථීර ස්වභාවය, සංස්කාරයන්ගේ පිහිටක් නැති බව අවබෝධ කරගෙන, අවබෝධයෙන් කළකිරීම පිණිස, අවබෝධයෙන් නොඇලීම පිණිස, අවබෝධයෙන් නිදහස් වීම පිණිසම, ඒ වගේම මෙච්චර වූ සංසාරෙක අපි යන්නෙ, ආර්ය වූ සීලය, ආර්ය වූ සමාධිය, ආර්ය වූ ප්‍රඥාව, ආර්ය වූ විමුක්තිය අවබෝධ නොවීම නිසා නම් මේ පින ඒකාන්තයෙන් ආර්ය සීලය පිණිස, ආර්ය සමාධිය පිණිස, ආර්ය ප්‍රඥාව පිණිස, ආර්ය විමුක්තිය පිණිසම මේ පින් හේතු උපකාර වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=kBsPPKm5Abs&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=90

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නමස්කාර වේවා. නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේත් අසිරිමත් සම්බුදු සරණ තුළින් ඔබ අපි සරණ ගිය අපගේ බුදුරජාණන් වහන්සේගේ ඒ අසිරිමත් මහානුභාව සම්පන්න ආශ්චර්‍ය අද්භූත වූ ඒ සම්බුදු ජීවිතය ගැන ඉගෙන ගෙන තිසරණයේ පිහිටීම පිණිස අපේ හිත පහන් කරගන්නවා. ඉතින් අද දවසේ මේ ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නේ කැනඩාවේ පදිංචි පින්වත් දර්ශ මාපටුන මහත්මයා සහ නිලූශා මාපටුන මහත්මිය යන දෙපළ, මේ පින්වතුන් මහානුභාව සම්පන්න පිනක් රැස් කරගන්නවා මේ බුදුරජාණන් වහන්සේගේ ඒ උතුම් ශ්‍රී සද්ධර්මය අන් අයට අහන්න සැලැස්වීම තුලින්. පින්වතුනි අපි පසුගිය කාලෙ කතා කලා මේ ලෝකය හැදෙන හැටි, ලෝකය පවතින හැටි, ලෝකය පැවතුන හැටි, පවතින්න තියෙන විදිය, ලෝකය නැසෙන හැටි. මේ විදියට මේ ලෝකය විනාශ වෙලා යනවා. එතකොට ඇති කිසිවක් නෑ. කිසිම දෙයක් නෑ, මම මගේ මගේ ආත්මය කියලා. දැන් සත්ත සුරියුග්ගමන සූත්‍රයේ අනිත්‍ය ගැන දේශනා කරද්දි ඒ දේශනාව ශ්‍රවණය කරපු පන්සීයක් සඟරුවන ඒ මොහොතේම අර්හත්වයට පත්වුනා. සත්ත සුරියුග්ගමන සූත්‍රය ලෝකය විනාශ වෙන හැටි අහලා බුදුරජාණන් වහන්සේ වදාළා මෙයම කළකිරෙන්න වටිනවා කියලා. ජීවිතේ සම්පූර්ණයෙන් පුදලානෙ තියෙන්නෙ ශාසනේට. සසර දුකින් නිදහස් වෙන්නමනෙ කල්පනා කරන්නෙ. ඒකෙන්ම අර්හත්වයට පත්වුනා. කලින් බලවත්වම තිබ්බා ඒ කාලෙ සසර දුකින් නිදහස් වෙන අදහස. අනේ අද ඒක ඉතාමත් දුර්ලභයි. සසර දුකින් නිදහස් වෙනවා කියන අදහස, අතිශයින් දුර්ලභයි. දැන් අසිරිමත් සම්බුදු සරණනෙ. කියන්නෙ සම්බුදු සරණ යන්නෙ කොහොමද, ධර්මය සරණ යන්නෙ කොහොමද, සංඝරත්නය සරණ යන්නෙ කොහොමද, ඒ තිසරණයට උපකාරී වීම පිණිසනෙ මේ ධර්ම දේශනා

මාලාව කරන්නෙ. ඒ වුනාට මම සූත්‍ර දේශනානෙ කරන්නෙ. පින්වතුනි ඒ දේශනා තුලින් තමයි බුදුරජාණන් වහන්සේ සරණ යන්නෙ. ධර්මය තුළින්මයි සරණ යන්නෙ. දැන් අද බලන්න පුදුම විදියට හිත පහන් වෙනවා අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ මේ බුද්ධ කාලයේ ප්‍රශ්න වලට මුහුණ දුන්න හැටි. බුදුරජාණන් වහන්සේගේ සූත්‍ර දේශනා ඇසුරින් බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ කඳ විස්තර කරන්න නම් සූත්‍ර දේශනා දහඅට දාහක් වත් විස්තර කරන්න ඕන. ඉතින් ඒ නිසා අපි අද බලමු තවත් එක දේශනාවක්. නම උපාලි සූත්‍රය. මජ්ඣිම නිකායේ. හරියට සිත පහන් වෙනවා බුදුරජාණන් වහන්සේ ගැන. ඒ කාලෙ භාග්‍යවතුන් වහන්සේ වැඩ සිටියේ නාලන්දාවේ පාවාරිකා අඹ වනයේ. එතකොට බුදුරජාණන් වහන්සේ පාවාරිකා අඹ වනයේ වැඩ ඉන්න කාලයේ නිගණ්ඨනාතපුත්‍ර මහත් වූ නිගණ්ඨ පිරිසක් සමඟ නාලන්දාවේම වාසය කලා. පින්වතුනි නිගණ්ඨකයා මේ නාලන්දාවේම හිටියා. භාග්‍යවතුන් වහන්සේත් නාලන්දාවේ වැඩ හිටියා. මුළු ජීවිත කාලෙටම නිගණ්ඨ භාග්‍යවතුන් වහන්සේව දැකලා නෑ. ඔය නිගණ්ඨනාතපුත්‍ර, අජිතකේසකම්බලි, මක්ඛලිගෝසාල, සංජයබෙල්ලට්ඨිපුත්ත, පකුධකච්චායන ආදී වූ ෂඩ්ශාස්තෘවරු ඉන්නවානෙ. එක්කෙනෙක්වත් බුදුරජාණන් වහන්සේගේ ඉදිරියට පැමිණිලා නෑ, ඒකට හේතුව තමයි යම්කිසි කෙනෙක් මම බුද්ධයි, මම සම්බුද්ධයි, මම අවබෝධ කලා, මමයි ශාස්තෘ කියාගෙන බොරුවට රඟපානවා නම් සම්බුද්ධත්වයක් බොරුවට රඟපානවා නම් එහෙව් කෙනෙක් සැබෑ සම්බුදුවරයෙක් ඉදිරියට ගියොත් හිස හත්කඩකට පැලෙනවා. බුදුරජාණන් වහන්සේගේ මුළු ජීවිත කාලෙටම ඔය නිගණ්ඨනාතපුත්තලා බුදුමුව ඉදිරියට ගිහිල්ලා නෑ. ඊටපස්සෙ දැන් භාග්‍යවතුන් වහන්සේ පාවාරිකා අඹ වනයේ වැඩ ඉදිද්දි, නිගණ්ඨනාතපුත්තගේ ඉන්නවා ගෝලයෙක් දීඝතපස්සි. මේ දීඝතපස්සි භාග්‍යවතුන් වහන්සේ ළඟට පැමිණියා. පැමිණිලා සතුටු කතාබහේ යෙදිලා එකත්පස්ව හිටියා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ දීඝතපස්සි නිගණ්ඨයාට කියනවා, තපස්සි මේ ආසන තියෙන්නෙ, ඉතින් කැමැති නම් වාඩිවෙන්න. බුදුරජාණන් වහන්සේ වදාළා මේ ඉන්න තැන් තියෙනවානෙ, කැමැති නම් වාඩිවෙන්න. මෙසේ වදාළ විට දීඝතපස්සි නිගණ්ඨයා එක්තරා මිටි ආසනයක් අරගෙන ඉඳගත්තා. බුදුරජාණන් වහන්සෙ දීඝතපස්සිට කියනවා ඇ තපස්සි, නිගණ්ඨනාතපුත්ත පාපකර්මයන් පිළිබඳව, එහෙම නැත්නම් පාපකර්මයන්ගේ පැවැත්ම පිළිබඳව කොපමණ කර්මයන් පනවනවාද, ඒ කියන්නෙ පව් කිරීම පිණිස පව් කරන එක දිගට පැවැත්ම පිණිස මොනවද

පන්වන්නෙ. ඊටපස්සෙ දීඝතපස්සි කියනවා, ආයුෂ්මත් ගෞතමයෙනි, නිගණ්ඨනාතපුත්‍රයන් හට ඔය කර්ම, කර්ම කියන වචනය රුචි නෑ. බුදුරජාණන් වහන්සේ ඇහුවාගෙන පාපකර්මය ඉදිරියට පවත්වන්න කොපමණ කර්ම තියෙනවාද කියලා. පාපය ඉස්සරහට යන්න කොච්චර කර්ම තියෙනවාද. එතකොට දීඝතපස්සි කිව්වා ගෞතමයෙනි, ඔය කර්ම කර්ම කියන එක රුචි නෑ අපි කැමැති නෑ ඕකට. අපි කැමැති දණ්ඩ දණ්ඩ කියන එකට. අපේ නිගණ්ඨනාතපුත්‍රයන් දණ්ඩ දණ්ඩ කියන වචනෙටයි රුචි. හොඳයි තපස්සි එහෙනම් අපි පාපකර්ම පිළිබඳව පාප කර්මයන්ගේ පැවැත්ම පිළිබඳව කොපමණ දණ්ඩ තියෙනවාද. ආයුෂ්මත් ගෞතමයෙනි, නිගණ්ඨනාතපුත්ත පාපකර්මයන් කිරීම පිළිබඳව, පාපකර්මයන්ගේ පැවැත්ම පිළිබඳව දණ්ඩ තුනක් පනවනවා. ඒ කියන්නෙ කාය දණ්ඩ, වචී දණ්ඩ, මනෝ දණ්ඩ. දැන් අපි කාය කර්ම, වචී කර්ම, මනෝ කර්ම කියන්නෙ ඒකට තමයි එයාලා දණ්ඩ කියන්නෙ. කාය දණ්ඩ, වචී දණ්ඩ, මනෝ දණ්ඩ. තපස්සි කිම, කාය දණ්ඩ කියන්නෙ වෙනත් එකක්ද, වචී දණ්ඩය කියන්නෙ වෙනත් එකක්ද, මනෝ දණ්ඩය කියන්නෙ වෙනත් එකක්ද. ඔය දණ්ඩ තුන කියන්නෙ එකක්ද, නැත්නම් වෙනත් වෙනත් දේවල්ද. ආයුෂ්මත් ගෞතමයෙනි, කාය දණ්ඩ, වචී දණ්ඩ, මනෝ දණ්ඩ කියන ඒවා වෙන වෙනම තියෙන්නෙ. තපස්සි ඔය විදියට විශේෂ කොට බෙදන ලද, ඔය විදියට වර්ග කරලා ඔය විදියට දණ්ඩ තුනක් පාපකර්ම කිරීම පිළිබඳව, පාපකර්ම පැවැත්ම පිළිබඳව ඔබලා කියනවානෙ. බරපතලම එක මොකක්ද, ඔය කාය දණ්ඩයද, වචී දණ්ඩයද, මනෝ දණ්ඩයද, බරපතලම එක ඔය තුනෙන්. එතකොට දීඝතපස්සි කියනවා මේ පාපකර්ම සහ මේවා ඉදිරියට පැවැත්ම දිහා බලනකොට නිගණ්ඨනාතපුත්‍ර පනවන්නෙ කාය දණ්ඩය තමයි බරපතලම. වචී දණ්ඩය බරපතල නෑ, මනෝ දණ්ඩය බරපතල නෑ. බුදුරජාණන් වහන්සේ වදාළා ඈ තපස්සී, කාය දණ්ඩය බරපතලයි කියලා කිව්වෙ. ඔව් ආයුෂ්මත් ගෞතමයෙනි කායදණ්ඩය තමයි බරපතලම. බුදුරජාණන් වහන්සේ දෙවෙනි වතාවටත් අහනවා, ඈ තපස්සි කාය දණ්ඩය බරපතලයි කියලා ඔය කියන්නෙ. ඔව් ඔව් කායදණ්ඩය බරපතලයි. බුදුරජාණන් වහන්සේ තුන්වෙනි වතාවටත් ඇහුවා, ඈ තපස්සි, කායදණ්ඩය බරපතලයි, ඔව් ඔව් කායදණ්ඩය බරපතලයි, වචී දණ්ඩ, මනෝ දණ්ඩ ඒවා එහෙම බරපතල නෑ කිව්වා. හරි භාග්‍යවතුන් වහන්සේ මේ යම් කතා වස්තුවක් ඉදිරියට පැවැත්වෙනවාද, ඒකට මූලික කාරණාව තුන් පාරක් සපථ කරගත්තා. කියන්නෙ නිගණ්ඨයො කිව්වා කාය දණ්ඩය තමයි ලෝකෙ බරපතලම දේ

කියලා. ඊටපස්සෙ දීඝතපස්සි අහනවා ඈ ගෞතමයෙනි, ඔබත් පාපකර්ම කිරීම පිළිබඳව පාපකර්මය පැවැත්ම පිළිබඳව දණ්ඩ කීයක් පනවනවද. බුදුරජාණන් වහන්සේ වදාළා තපස්සී තථාගතයන් වහන්සේට ඔය දණ්ඩ දණ්ඩ කියන ඒවා රුචි නෑ, අපි කියන්නෙ ඒකට කර්ම කර්ම කියලා. එතකොට තපස්සි කියනවා එහෙනම් හරි භවත් ගෞතමයෙනි ඔබ මේ පාපකර්ම කිරීම පිළිබඳව කොච්චර කර්ම පනවනවද. බුදුරජාණන් වහන්සේ වදාළා තපස්සී, කර්මයක් කිරීම පිළිබඳව මම කාය කර්ම, වචී කර්ම, මනෝ කර්ම කියලා තුනක් පනවනවා. එතකොට දීඝතපස්සි අහනවා, ඔය තුනම එකක්ද නැත්නම්, වෙන වෙනමද. බුදුරජාණන් වහන්සේ වදාළා කාය කර්මය කියන්නෙ එකක්. වචීකර්මය කියන්නෙ එකක්, මනෝ කර්මය කියන්නෙ එකක්. ආයුෂ්මත් ගෞතමයෙනි, ඕවගෙන් බරපතලම දේ මොකක්ද. මේ සසරේ යන ගමනට, ඉදිරි පැවැත්මට පව් කර කර යන ලෝකයේ පාපයෙන් වැසුනු ලෝකෙ බරපතලම දේ මොකක්ද. බුදුරජාණන් වහන්සේ වදාළා බරපතලම එක තමයි මනෝ කර්මය. කාය කර්මය එච්චර බරපතල නෑ, වචී කර්මය එච්චර බරපතල නෑ. මනෝ කර්මය බරපතලයි. ඈ ගෞතමයෙනි, මනෝ කර්මය බරපතලයි. ඔව් තපස්සි මනෝ කර්මය තමයි බරපතලම දේ. ඈ ගෞතමයෙනි මනෝ කර්මය බරපතලයි, බුදුරජාණන් වහන්සේ වදාළා ඔව් තපස්සි මනෝ කර්මය තේන්නම් බරපතල. තුන්වෙනි වතාවටත් තපස්සි අහනවා ඈ ගෞතමයෙනි, මනෝ කර්මය බරපතලයි. ඔව් මනෝ කර්මය බරපතලයි, කාය කර්ම වචී කර්ම එච්චර බරපතල නෑ, මනෝ කර්මයත් එක්ක බලනකොට. මේ විදියට නිගණ්ඨ ශ්‍රාවක වූ දීඝතපස්සිත් බුදුරජාණන් වහන්සේගෙන් මේ කතා වස්තුවට මුල් වුන කාරණාව තුන් වතාවක් සපථ කරගත්තා. ඒ කියන්නෙ නිගණ්ඨයො කියන්නෙ කාය දණ්ඩය බරපතලයි කියලා. භාග්‍යවතුන් වහන්සේ දේශනා කරන්නෙ මනෝ කර්මය බරපතලයි. ඒ කියන්නෙ මේ කාය කර්ම, වචී කර්ම, මනෝ කර්ම කියන තුන ගත්තොත් එයින් බරපතලම දේ තමයි සිත කය වචනය කියන එකෙන්, සිත. හිතකින් තමයි ඔක්කොම සෙල්ලම් ටික තියෙන්නෙ. දැන් නිගණ්ඨයො කියන්නෙ කය තමයි ප්‍රබල. ඊටපස්සෙ ඒ වෙලාවෙ ඔය කාරණාව ඔච්චරයි කතා වුනේ. නැගිටලා ගියා. දීඝතපස්සි ගියා. ඒ කතාවේ අගක් නෑ. තපස්සි නැගිටලා ගියා. ඊටපස්සෙ ඒ වෙලාවෙ දැන් නිගණ්ඨනාතපුත්‍ර උපාලි ගෘහපතියා ප්‍රධාන බාලකලෝනකාර කියන ගමේ විශාල නිගණ්ඨ පිරිසක් එක්ක ඒ ආරාමයේ හිටියා, කතාබහ කර කර. අදටත් ඉන්නවානෙ ඉන්දියාවේ නිගණ්ඨයො දස දහස් ගාණක්. ඔක්කොම හෙළිවැල්ලෙන්. දස දහස් ගාණක්

අළු තවරාගෙන නිගණ්ඨයො කොච්චර ඉන්නවාද. වෙලාවකට බාරාණසිය, බුද්ධගයාව ඒ ප්‍රදේශ පුරා සැරිසරනවානෙ වස්ත්‍රයක් නැතිව. ස්වේතම්බර, දිගම්බර කියලා ඉන්නවා. ස්වේතම්බර කියලා කියන්නෙ ඔය හෙළුව වැහෙන්න යාන්තම් සුදු රෙද්දක් ඇඳගන්නවා. ඒ අය පුහුණු වෙන අය. ඊළඟට දිගම්බර කියලා කියන්නෙ දිසා වස්ත්‍රය කරගෙන ඉන්නවා. ඒ අය දිසා මිසක්කා ඇඟේ වස්ත්‍රයක් නෑ. එතකොට අදටත් ඉන්නවා. ඒ කාලෙ ඉතින් දහස් ගාණක් අර නිගණ්ඨයා වටකරගෙන ඉන්නවා උපාලි ගෘහපතියාත් ඉන්නවා. එතකොට ඒ උපස්ථාන කරන ගිහි ශ්‍රාවකයො නිරුවතින් ඉන්නෑ. ඒ අය සාමාන්‍ය විදියට ගිහිල්ලා අර අයට වඳිනවා, පුදනවා. දැන් අද කාලෙ වුනත් නිගණ්ඨයො ඉන්දියාවෙ ඉන්න, ඒ නිගණ්ඨයො නිරුවතින් ගෙනල්ලා ගෙදරට කන්න බොන්න දීලා අත්වලට තමයි, මේ අත්වලින් ලෙවකකා මූණෙ ගාගෙන අමුතු විදියට. ස්ත්‍රීන් තමයි වැඩිපුරම උපස්ථාන කරන්නෙ. ඉන්දියාවේ අදටත් තියෙනවා. ඊටපස්සෙ දැන් උපාලි ගෘහපතියාත් එතන ඉන්නවා. අර ගමේ නිගණ්ඨ ශ්‍රාවකයො ටිකත් එතන ඉන්නවා. ඈතින්ම එන දීඝතපස්සිව දුටුවා, නිගණ්ඨනාතපුත්‍ර විසින්. ඈතින්ම එනකොට ආ, තපස්සී එම්බා තපස්සි මේ මහා දවාලේ කොහේ ඔහේ ගියෙ. ඊටපස්සෙ කියනවා ස්වාමීනී, - දැන් භාග්‍යවතුන් වහන්සේට කතා කරනකොට ආයුෂ්මත් ගෞතමයෙනි කියලා සමාන වචනයෙන්. මෙතන බලන්න යටහත් පහත් කම නිගණ්ඨනාතපුත්තට. ස්වාමීනී මම ඒ ශ්‍රමණ භවත් ගෞතමයො ළඟ ඉඳලා මේ එන්නෙ. ඈ තපස්සි, ශ්‍රමණ භවත් ගෞතමයන් හා නුඹ හා මොනවාහරි කතා සල්ලාපයක් වුනාද. ඊටපස්සෙ කියනවා ශ්‍රමණ භවත් ගෞතමයන් හා මගේ යම් කතාබහක් නම් ඇතිවුනා තමයි. එම්බා තපස්සි, ශ්‍රමණ භවත් ගෞතමයන් සහ නුඹ අතර ඇතිවුනේ කොයි වගේ කතාවක්ද. ඊටපස්සෙ දීඝතපස්සි භාග්‍යවතුන් වහන්සේ හා යම්තාක් කතා සල්ලාපයක් වුනාද, ඒ කතා සල්ලාපය කියාහිටියා. එතකොට නිගණ්ඨයාට හරී සතුටුයි. හරී සතුටුයි. නිගණ්ඨයා කියනවා යසයි යසයි තපස්සි, කොච්චර අගෙයිද. මනාකොට ශාස්තෘ ශාසනය දන්නා වූ ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවකයෙක් කතා කරන්න ඕන විදියටමයි අපේ දීඝතපස්සි කතා කරලා තියෙන්නෙ. එතකොට ඒ අයගෙත් තියෙනවා ශ්‍රැතවත් ශ්‍රාවක. ඒ කියන්නෙ ශාසනය දන්නා කෙනා. ඊටපස්සෙ මෙබන්දක් කියනවා, දීඝතපස්සී මොනවද ඔය ශ්‍රමණ භවත් ගෞතමයො කියලා තියෙන්නෙ. එච්චර මහා බරපතල කායදණ්ඩය තියෙද්දි වචී දණ්ඩය මනෝ දණ්ඩය මොකක් කරන්නද. ඕක තේරෙන්නෑනෙ මේ ශ්‍රමණ භවත් ගෞතමයන්ට. ඇත්තටම මේකෙ

ප්‍රබලම කායදණ්ඩය. වචී දණ්ඩ මනෝ දණ්ඩ නෙවෙයි. ඊටපස්සෙ උපාලි ගෘහපතියත් එතන ඉඳලා කියනවා යසයි යසයි දීඝතපස්සි කොච්චර අගෙයිද ස්වාමීනී දීඝතපස්සි. ඔබවහන්සේ මනාව ශාස්තෘ ශාසනය දන්න ශ්‍රැතවත් ශ්‍රාවකයෙක් විදියට ඔය ශ්‍රමණ භවත් ගෞතමයන් ඉදිරියේ නිරුත්තර වෙන්න කියලා තියෙනවා. බොහොම අගෙයි, බොහොම අගෙයි. මේ ප්‍රබල කායදණ්ඩය තියෙද්දි වචීදණ්ඩය අභවල් එකකටද, ඊළඟට මනෝදණ්ඩය අභවල් එකකටද. කායදණ්ඩයනෙ ප්‍රබල. ඊටපස්සෙ කියනවා ඇත්තටම ස්වාමීනී මං යනවා. මට ඕක ඇති. මට ඔය කතාව ඇති. මං දැන් යනවා, ශ්‍රමණ භවත් ගෞතමයොත් එක්ක මං දැන් වාද කරනවා, උපාලි කියන්නෙ. මම ගිහිල්ලා අපේ බදන්තතපස්සි අපේ මේ බදන්ත - ඒ කියන්නෙ දැන් මහා ගෞරවයක් දීලා තියෙන්නෙ තපස්සිට. අපේ මේ බදන්ත තපස්සි යම් විදියකින් තුන් යලක්, තුන් වතාවක් පිහිටවපු කතාවේ ශ්‍රමණ භවත් ගෞතමයො හිටියොත් මම වාදෙට ගන්නවා උපමාවක් කිව්වොත් එහෙම පුරුෂයෙක් දීර්ඝ ලොම් තියෙන එළුවෙක් අල්ලගෙන ලොම් වලින් අල්ලලා එහෙට්ට මෙහෙට්ට එහෙට්ට මෙහෙට්ට ඇද දම දමා එහෙට්ට මෙහෙට්ට ඇදලා වෙහෙසට පත්කරනවා වගේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ වාදයෙන් අර පැත්තට අදිනවා, මේ පැත්තට අදිනවා. කතා කරගන්න බැරි තත්ත්වයට මං පත්කරනවා. මට ඔය කතාව කියනකොටම තේරෙනවා, මට ගිහිල්ලා කියන්න, වාද කරන්න පුලුවන්කම තියෙනවා ශ්‍රමණ භවත් ගෞතමයොත් එක්ක. සුරා පෙරන මනුස්සයෙක් අර සුරා පෙරන ගොට්ට, සුරා මල්ල ගැඹුරු දියට දාලා එහෙට්ට මෙහෙට්ට ගස ගසා හෝදනවා වගේ මම ශ්‍රමණ භවත් ගෞතමයො එහෙට්ට මෙහෙට්ට පෙරලා පෙරලා වාද කරනවා. එතකොට මේ උපාලි කියන්නෙ බොරුවට නෙවෙයි මේ කියන්නෙ. එච්චරටම උපාලි දක්ෂයි. එච්චරමට දක්ෂයි. ඒ කතා සම්පූර්ණ කතාව අහගෙන හිටියානෙ උපාලි. උපාලිට එච්චරටම විශ්වාසයි කායදණ්ඩය කියන එක වචී, මනෝ කියන කාරණාවලට වඩා ප්‍රබලයි කියලා මට ශ්‍රමණ භවත් ගෞතමයන්ට ඒත්තු ගන්වන්න පුලුවන් කියලා එච්චර විශ්වාසයක්. කියනවා ශක්ති සම්පන්න බේබද්දෙක් සුරා පෙරන පෙරහන දෙපැත්තට අල්ලාගෙන කණපිට හරවලා පිඹිනවා වගේ, උඩුකොට පිඹිනවා වගේ, නැවත නැවතත් එහාට මෙහාට පිඹිනවා වගේ මම ශ්‍රමණ භවත් ගෞතමයො වාදය තුළින් යටිකුරු කරවනවා, පිඹිනවා, උඩුකරවනවා, පිඹිනවා, නැවත නැවතත් එහාට මෙහාට දාලා පිඹහරිනවා කිව්වා. දැන් මේ බලන්න බුද්ධ කාලෙ හරී පුදුමයි. මේ උපාලි බලන්න මේ බුදු කෙනෙකුට කියන දේවල්. අවසානෙට

උපාලිට මොකක්ද වෙන්නෙ කියලා බලන්නකො. කියනවා හැට හැවිරිදි හස්ති රාජයෙක් ගැඹුරු පොකුණකට බැහැලා සණ්ඩෝයික නම් ක්‍රීඩාව කරනවාද, ඒ කියන්නෙ නෙළුම් අල අරගෙන ඒවා එහෙට මෙහෙට හොඬවැලෙන් හෝද හෝදා විසික්කා කරනවා, මඩ වීසි කරනවා. ආන්න ඒ වගේ මං ශ්‍රමණ භවත් ගෞතමයො වාදෙට අරන් ඔය කතාවට මූලික කාරණාව ඇගෙන එහෙට මෙහෙට වාදයෙන් පෙරලලා දානවා. හරී සතුටුයි නිගණ්ඨනාතපුත්තට. ප්‍රීතිය ඉහවහා ගියා. උපාලී දැන් පලයන් කිව්වා. උපාලි දැන් පලයන්, ඔය විදියටම කරපං. උපාලි ඔය කාරණාවට එක්කො වාද කරනවා නම් මම ගිහිල්ලා වාද කරන්න ඕන, නැත්නම් මේ දීඝතපස්සි වාද කරන්න ඕන. නැත්නම් උපාලි උඹ වාද කරන්න ඕන. අපි දෙන්නා වෙනුවෙන් උඹ පලයන් කිව්වා. දැන් නිගණ්ඨනාතපුත්තට පුදුම ප්‍රීතියක්. ඇයි අර උපමා ටිකම මදැයි. ඊටපස්සෙ මෙහෙම කියනකොට දීඝතපස්සි කිව්වා හා හා ස්වාමීනී යවන්න එපා, යවන්න එපා. මං නම් කැමැති නෑ මේ උපාලි යනවට. මොකද අන්‍යාගමිකයන්ගේ ශ්‍රාවකයො තමා කරා කරකවලා ගන්න ආවට්ඨනී මායාව ඔය ශ්‍රමණ භවත් ගෞතමයො දන්නවා. ඊටපස්සෙ නිගණ්ඨනාතපුත්‍ර කියනවා ඈ තපස්සි ඔහේට ඔල්මාදද, මේ අපේ උපාලි, අපේ උපාලි කරකවලා ගන්න මේ ශ්‍රමණ භවත් ගෞතමයො. තපස්සි ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ ශ්‍රාවකයෙක් වෙනවා කියන එක මේ උපාලි, නේඨං ඨානං වුජ්ජති, සිදුවිය නොහැකි දෙයක්. හැබැයි ඔය ශ්‍රමණ භවත් ගෞතමයො මේ උපාලිගේ ශ්‍රාවකයෙක් වෙනවා කියන එක ඨාන මේතං වුජ්ජති, සිද්ධ වෙනවාමයි. මගේ පුතා උපාලි පලයං දැන්. වාද කරපං. ඊටපස්සෙ ආයෙත් දීඝතපස්සි කියනවා, එපා යන්න. උපාලි යන්න එපා. මට රුස්සන් නෑ මේ ගමන නම්. ඔය ශ්‍රමණ භවත් ගෞතමයෝ අන් අයගේ ශ්‍රාවකයන් තමා කරා කරකවලා ගන්නා වූ ආවට්ඨනී කියන මායාව දන්නවා. ඊටපස්සෙ ආයෙත් නිගණ්ඨනාතපුත්‍ර කියනවා ඈ තපස්සී, ඔහේට ඔල්මාදෙද. මේ අපේ උපාලි කොහාමද එහෙම වෙන්නෙ. ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ ශ්‍රාවකයෙක් වෙනවා කියන එක මේ උපාලි නේඨං ඨානං වුජ්ජති, සිද්ධ වෙන්න බෑ, සිද්ධ වෙන්න පුලුවන් දේ තමයි ශ්‍රමණ භවත් ගෞතමයො උපාලිගේ ශ්‍රාවකයෙක් වෙනවා. ආයෙත් දීඝතපස්සි කියනවා එපා යන්න මට මේක රුස්සන් නෑ මට මොකක්හරි ඉවකින් වගේ දැනෙනවා. යවන්න එපා ආවට්ඨනී මායාවක් තියෙනවා ශ්‍රමණ භවත් ගෞතමයො ළඟ. ඉතින් ආයෙ නිගණ්ඨනාත කියනවා තපස්සී ඔහේට ඔල්මාදෙද, එහෙම එකක් වෙන්නෙ කොහෙද, ශ්‍රමණ භවත් ගෞතමයො උපාලිගේ ශ්‍රාවකයෙක් වෙනවා,

උපාලි මගේ පුතේ උඹ පලයං. ගිහිල්ලා හොඳට වාද කරපං. එක්කො මම යන්න ඕන. නැත්නම් මේ දීඝතපස්සි යන්න ඕන. නැත්නම් උපාලි යන්න ඕන. අපි දෙන්නා වෙනුවෙන් උපාලි උඹ පලයං. ඊටපස්සෙ උපාලි ගෘහපතියා එසේය ස්වාමීනී කියලා නිගණ්ඨනාතපුත්‍රයන්ට පිළිතුරු දීලා, ආසනෙන් නැගිටලා ආදරෙන් වන්දනා කරලා පැදකුණු කරලා පිටත් වුනා. අවසාන වන්දනාව තමයි ඉතින්. පැදකුණු කරලා පිටත් වුනා. ගිහින් පාවාරිකා අඹ වනයට ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේට වන්දනා කරලා පැත්තකින් ඉඳගත්තා. ඉඳගෙන කියනවා ස්වාමීනී, දීඝතපස්සී නිගණ්ඨයන් වහන්සේ මේ පැත්තේ වැඩම කලාද. ඔව් උපාලි, දීඝතපස්සි මෙහි පැමිණියා. භාග්‍යවතුන් වහන්සේ සමඟ කතාවක් වුනාද. ඔව් උපාලි කතාබහක් වුනා. භාග්‍යවතුන් වහන්සේට ඒක කොයි වගේ කතාවක්ද වුනේ. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ නිගණ්ඨයාගෙන් කාය දණ්ඩ, වචීදණ්ඩ, මනෝ දණ්ඩ ගැන අහපු එක දීඝතපස්සී කායදණ්ඩය තමයි ශ්‍රේෂ්ට කියපු එක, තුන් පාරක් ඒක සපථ කලා. භාග්‍යවතුන් වහන්සේට දණ්ඩ දණ්ඩ කියන වචන රුචි නෑ, කාය කර්ම, වචී කර්ම, මනෝ කර්ම එතකොට ඒකෙන් මනෝ කර්ම කියන එක තමයි ප්‍රබලම කියන එක භාග්‍යවතුන් වහන්සේ දේශනා කලේ. බුදුරජාණන් වහන්සේගේ මුළු බුද්ධ දේශනාවේම මනස තමයි ප්‍රධාන කරලා තියෙන්නෙ. කය වචනය නෙමෙයි. මනසින් තමයි කෙලෙස් නසන්නෙ. ඊටපස්සෙ දීඝතපස්සි බුදුරජාණන් වහන්සේ තුන් වතාවක් සපථ කරගත්තු එක, ඒ විස්තර ඔක්කොම කිව්වා. කියනකොට උපාලි කිව්වා, ඉතින් හරිනෙ, අපේ දීඝතපස්සී නිගණ්ඨයන් වහන්සේ කියපු එක හරිනෙ. යසයි, යසයි අපේ දීඝතපස්සි ශ්‍රැතවත් ශ්‍රාවකයෙක් විදියට ශාස්තෘ ශාසනය දන්නා වූ, මනාව ධර්මය ඉස්මතු කලා. ඒ තමයි කාය දණ්ඩය ශ්‍රේෂ්ටයි කියලා. මේ ලාමක වූ වචී දණ්ඩය, මේ ලාමක වූ මනෝ දණ්ඩය අහවල් එකක් කරන්නද, කාය දණ්ඩයම ශ්‍රේෂ්ටයි කිව්වා. මනෝ දණ්ඩය කොහොමද සෝබමාන වෙන්නෙ. කාය දණ්ඩයනෙ සෝබමාන වෙන්නෙ. ඒකයි කිව්වා ධර්මය, ඒකයි විනය. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, ඈ උපාලි ඔබ සත්‍යයේ පිහිටලා කතා කරනවා නම් මට පුලුවන් ඔබත් එක්ක කතා කරන්න. ඊටපස්සෙ උපාලි කිව්වා හරි මං ඇත්ත කතා කරන්නෙ. මං කරුණු වහන් නෑ, පිළිගන්නැතිව ඉන්නෑ, මං ඇත්ත කතා කරන්නෙ. බුදුරජාණන් වහන්සේ වදාළා හරි එහෙනම් උපාලි, මොකක්ද ඔබට මේ ගැන හිතෙන්නෙ. දැන් ඔන්න නිගණ්ඨයෙක් ඉන්නවා. එයාගේ ශාසනෙන්ම උත්තර දුන්නා. නිගණ්ඨයෙක් ඉන්නවා. ඔහු රෝගී වෙලා දුකට පත්වෙලා ගිලන් වෙලා ඉන්නවා. සීතල දිය

ප්‍රතික්ෂේප කරලා උණුදිය පමණක් වළඳන කෙනෙක්. ඉතින් නමුත් මෙයාගේ ලෙඩේ සුව වෙනවා සීතල වතුර බිව්වොත්. නමුත් මෙයා සීතල වතුර ප්‍රතික්ෂෙප කරනවා ප්‍රාණීන් ඉන්නවා කියලා. එතකොට සීතල වතුර ලැබෙන්නැතිව එයා මැරෙනවා. එතකොට නිගණ්ඨනාතපුත්‍ර මොහුගේ උත්පත්තිය කොහේ ඉපදුනා කියලාද කියන්නෙ. ඔන්න එතකොට එයා වතුර බොන්නැතිව ඉන්නවා. ඒ කියන්නෙ එයා කය සංවර කරගෙනනෙ. ඊළඟට මට ඇල්වතුර ටිකක් දියල්ලා කියලා කියන්නෑ, කටත් සංවර කරගෙනනෙ. නමුත් මෙයාගේ හිතෙන් දන්නවා මෙයා ඇල්වතුර ඕන කියලා. ඒ නිසා මෙයා ඇල්වතුර නොලැබී මැරෙනවා. හැබැයි කයත් සංවරයි, වචනෙත් සංවරයි. ඇඟෙන් බිව්වෙත් නෑ ඇල්වතුර, ඊළඟට ඇල්වතුර ඉල්ලුවෙත් නෑ. හැබැයි හිතෙන් ඇල්වතුර ඕන කියන අදහස මෙයාට තියෙනවා. මෙයා මැරිලා යනවා. කොහෙද උපදින්නෙ. කිව්වා ස්වාමීනී මනෝ සත්ත්ව කියලා දෙවිවරු කොටසක් ඉන්නවා. දැන් නිගණ්ඨයා කියපු එකක් ඔය කියන්නෙ. මනෝ සත්ත්ව කියලා දෙවිවරු ඉන්නවා, අන්න ඒ දිව්‍ය ලෝකයේ තමයි උපදින්නෙ. ඒකට හේතුව තමයි ස්වාමීනී, ඔහු සිසිල් දියට හිත බැඳිලා මැරෙන්නෙ. ඉතින් සිහිල් දියට හිත බැඳිලා මැරෙන නිසා මනෝසත්ත්ව කියන ලෝකෙ උපදිනවා. ඇ ගෘහපතිය, ගෘහපතිය සිහියෙන් කියන්න ඕන. සිහියෙන් කතා කරන්න ඕන. ඔබ කලින් කී බස පස්සෙ කියපු බසට ගැලපෙන් නෑ. දැන් නිගණ්ඨනාතපුත්‍ර කියන්නෙ හරියට ඒ ප්‍රතිපදාවේ හිටියොත් විමුක්තියට පත්වෙනවා කියලානෙ. එතකොට මෙයා කයත් සංවර කරගෙන හිටියා, වචනෙත් සංවර කරගෙන හිටියා, ඇල්වතුර ඉල්ලන්නෙත් නැතිව, බොන්නෙත් නැතිව. හිත ඇල්වතුරට බැඳිච්ච නිසා මෙන්න මනෝ සත්ත්ව කියන ලෝකෙකට ගියාලු. එහෙනම් නිගණ්ඨයා කියන විමුක්තිය ලබන්න එපැයි. කයත් සංවරවෙලා නම්, කාය කර්මය ශ්‍රේෂ්ටයි නම්. දැන් හිතත් එක්ක බැඳිච්ච නිසානෙ උපතක් කරා ගිහිල්ලා තියෙන්නෙ. ඉතින් හරියට කල්පනා කරන්න ඔබ කලින්ම කිව්වා මං ඇත්ත කතා කරනවා කියලා, සත්‍යයේ පිහිටලා කතා කරනවා කියලා. ඊටපස්සෙ උපාලි කියනවා, භාග්‍යවතුන් වහන්සේ ඔය විදියට කිව්වට මේ පාපකර්ම කිරීමට, පාපකර්මයන්ගේ පැවැත්මට කාය දණ්ඩයම තමයි බරපතල. මේ වාග් දණ්ඩය, මනෝ දණ්ඩය එච්චර බරපතල නෑ. දැන් බුදුරජාණන් වහන්සේ කරුණු සහිතව ඉස්මතු කරලත් උපාලි දෙවෙනි වතාවටත් කිව්වා, නෑ කායදණ්ඩය තමයි ප්‍රධානම. බුදුරජාණන් වහන්සේ වදාළා හරි උපාලි එහෙම නම් ඔබ මොකක්ද හිතන්නෙ, චතුයාම සංවරයෙන්

සංවර වෙලා සිහිල් දිය ප්‍රතික්ෂේප කරලා සියලු පව් වැළකූ සියලු පව් කම්පා කල, සියලු පව් වැළකීම ස්පර්ශ කල නිගණ්ඨයෙක් ඉන්නවා. ඉහළටම ගිහිල්ලා, චතුයාම සංවරය කියන්නෙ, සත්තු මරන් නෑ, හොරකම් කරන් නෑ, බොරු කියන් නෑ, ඒවගේම ඒ වගේ කාරණා හතරක් පුරන එකක්. එතකොට එයාලගේ තපස් ක්‍රම ඉහළටම නංවපු නිගණ්ඨයෙක් ඉන්නවා. ඔහු හොඳටම තපස හරියටම නූලටම කරන කෙනෙක්. මෙයා ඉදිරියට යද්දි පිටුපසට එද්දි මෙයාගේ අතින් කුඩා පණුවො පොඩි සත්තු කකුලට පෑගෙනවා. එතකොට මෙයාට මොනවගේ පාපයක් සිද්ධ වෙනවා කියලද ඔය නිගණ්ඨනාතපුත්‍ර කියන්නෙ. ඊටපස්සෙ උපාලි කියනවා ස්වාමීනී එයාට පවක් රැස් වෙන් නෑ. ඇයි උපාලි පවක් රැස් වෙන් නැත්තෙ, පවක් රැස් වෙන් නැත්තෙ, චේතනාවත් නෑ සතෙක් මරන්න. උපාලි කියන්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා චේතනාවක් තිබ්බ නම්. ස්වාමීනී චේතනාවක් ඇතුව ඒ වගේ පොඩි සත්තු මැරුවා නම් අපේ ශාසනයට අනුව මහා බරපතලයි ඒක. ඇයි නිගණ්ඨයො ප්‍රාණඝාතය බරපතලවම කියනවානෙ. ඒකනෙ ඇඳක නිදාගන්නෙත් නෑ, ඇඳුම් ඇඳගන්නෙත් නෑ, අතේ මොණර පිල් කළඹ තියලා ආසනේ පිහලානෙ ඉඳගන්නෙ. ඇල්වතුර බොන් නෑ සත්තු ඉදියි කියලා. ඒ නිසා ඒ ප්‍රාණඝාතය එච්චරම මහා බරපතල විදියට නිගණ්ඨයො සළකන්නෙ. ඉතින් බුදුරජාණන් වහන්සේ වදාළා දැන දැන ප්‍රාණීන් මැරුවා නම්, පාගගෙන ගියා නම් කොහොමද කියලා ඇහුවා. ස්වාමීනී, අතිශයින් බරපතලයි කිව්වා පාපය. එතකොට ඉස්සෙල්ලා අර දන්නැතිව පාගගෙන ගියෙ, ඒක අදාළ නෑ චේතනාවක් නෑනෙ කිව්වා. එතකොට බුදුරජාණන් වහන්සේ අහනවා උපාලි චේතනාව කියන එක අයිති ඔය ඔහේලගේ කාය දණ්ඩයටද, වචී දණ්ඩයටද, මනෝ දණ්ඩයටද කිව්වා. ස්වාමීනී මනෝ දණ්ඩයට. ගෘහපතිය, ගෘහපතිය, කල්පනා කරලා උත්තර දීපං. දැන් කිව්වෙ මහා බරපතල එක කායදණ්ඩය කියලානෙ. දැන් මනෝ කර්මයට ආවානෙ. ඒ නිසා ඔබ මුලින්ම කිව්වා සත්‍යයේ පිහිටලා කතා කරනවා කියලා. ඊටපස්සෙ උපාලි කිව්වා නෑ භාග්‍යවතුන් වහන්සේ කොහොම කිව්වත් කායදණ්ඩය තමයි ශ්‍රේෂ්ට, මනස ශ්‍රේෂ්ට නෑ. හරි බුදුරජාණන් වහන්සේ කිව්වා එහෙනම් මං ආපහු කාරණාවක් කියන්නම්, නාලන්දාව, මේ නාලන්දාව ඉතා සමෘද්ධිමත් සාරභාර සම්පන්නයි. බොහෝ මනුස්සයන්ගෙන් ජනාකීර්ණ වෙලා තියෙන්නෙ. එහෙම නේද උපාලි, එහෙමයි ස්වාමීනී. ඉතින් ගෘහපතිය, මේ ගැන ඔබ කුමක්ද හිතන්නෙ. කඩුවක් ඔසවාගත්ත පුරුෂයෙක් එනවා. පුරුෂයෙක් ඇවිල්ලා කියනවා මං මේ

නාලන්දාව එක මොහොතින් මේ සියලූම ප්‍රාණීන් මේ කඩුවෙන් නසලා, එකම මස් ගොඩක් බවට මස් පුංජයක් බවට පත්කරනවා කියලා මිනිස්සු මැද කෑගහලා කියනවා. මහා සවිශක්තියෙන් යුතු කෙනෙක්. ඉතින් උපාලි ඔබ කුමක්ද හිතන්නෙ, මේ නාලන්දාවේ යම්තාක් ප්‍රාණීන් ඉන්නවා නම් ඒ සියලු දෙනාම ඔය කඩුවෙන් කපලා එකම මස් පුංජයක් බවට මොහොතින් පත්කරන්න ඔය මනුස්සයාට පුලුවන්ද. ඊටපස්සෙ කිව්වා ස්වාමීනී පුරුෂයන් දහයක් නෙවෙයි. විස්සක් නෙවෙයි, සීයක් නෙවෙයි, පන්සීයක් නෙවෙයි, දහස්ගාණක් ආවත් මොහොතකින් මේ මුළු නාලන්දාවේම මිනිස්සු මරලා එක මස් පුංජයක් කරනවා කියන එක කරන්න බෑ. එච්චර මිනිස්සු ඉන්නවා මේ නාලන්දාවෙ. දැන් මේ ඇඟෙන් කරන එක ගැනනෙ කිව්වෙ. හරි ගෘහපතිය, මොකක්ද හිතන්නෙ, චිත්ත වශී භාවයට පත්වූ ශ්‍රමණයෙක් හෝ බ්‍රාහ්මණයෙක් හෝ ඉන්නවා. ඔහු එනවා ඇවිල්ලා කියනවා මං මගේ එකම සාපයෙන් මුළු නාලන්දාවම අළු කරනවා කියලා කියනවා. ඒ කියන්නෙ ඍද්ධිමත් තාපසයෙක් ඇවිල්ලා ඍද්ධියෙන් මුලු නාලන්දාවම අළු කරනවා කියලා කියනවා, ඒක එයාට කරන්න පුලුවන්ද. ස්වාමීනී එක නාලන්දාවක් නෙවෙයි, නාලන්දා දහයක්, විස්සක්, නාලන්දා සීයක් වුනත් ඒ ඍෂිවරුන්ගේ සාපයෙන් අළු කරන්න පුලුවන්. එතකොට ඒක කරන්නෙ දැන් ඇඟෙන් ද, මනසින් ද. මනසින්නෙ කරන්නෙ. හරි ගෘහපතිය, දැන් නුඹම කල්පනාවෙන් කතා කරන්න ඕන. දැන් ඉස්සෙල්ලා දැන් ඇඟෙන් කරන්න බෑනෙ, මනසින් කරන්න පුලුවන් කියන තැනටනෙ ආවෙ ඔය. දැන් කාය දණ්ඩය ශ්‍රේෂ්ටයි කියලා ආයෙ මොකද මනෝදණ්ඩය ශ්‍රේෂ්ටයි කියන තැනට එන්නෙ. සිහියෙන් යුතුව කතා කරන්න ඕන. සත්‍යයේ පිහිටලා කතා කරන්න ඕන. ඊටපස්සෙ ආයෙත් උපාලි කියනවා ඔය මොනවා කිව්වත් කායදණ්ඩයම ශ්‍රේෂ්ටයි. මනෝ දණ්ඩය මොනවා කරන්නද. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ අහනවා එහෙනම් උපාලි, මං කාරණාවක් කියන්නම්. ඒ නමයි ඔබ අහලා තියෙනවා නේද, දණ්ඩකාරණ්‍යය, කාලිංඝාරණ්‍යය, මේදෙය්‍යාරණ්‍යය, මාතංගාරණ්‍යය කියන ගම් විනාශ වෙලා ආරණ්‍ය තනිකර කැලෑ බවට පත්වුනේ කුමක් නිසා කියලද අහලා තියෙන්නෙ. කිව්වා ස්වාමීනී, දණ්ඩකාරණ්‍යය, කාලිංඝාරණ්‍යය, මේදෙය්‍යාරණ්‍යය, මාතාංගාරණ්‍යය කියන මේවා විනාශ වෙලා වල්වැදිලා ආරණ්‍ය බවට පත්වෙලා තියෙනවා කියලා මම අහලා තියෙනවා මේ ඔක්කොම වෙලා තියෙන්නෙ ඍෂිවරුන්ගේ සාපයෙන්, මනසින් කරපු සාපයකින්. ඉතින් ගෘහපතිය මොකක්ද දැන් ඔබ කියන්නෙ. කයද ශ්‍රේෂ්ට, මනස ද ශ්‍රේෂ්ට.

සිහියෙන් උත්තර දෙන්න. දැන් මුලින්ම කිව්වානෙ මං ධර්මයේ පිහිටලා මම මේ සත්‍ය කතා කරන කෙනෙක් කියලා දැන් කිව්වානෙ. එතකොට පින්වතුනි ඔය කාලිංගාරණ්‍යය, මාතාංගාරණ්‍යය කියලා ගත්තොත් අපි ගත්තොත් මාතාංගාරණ්‍යය කියන එක, මාතාංගාරණ්‍යය බවට පත්වෙච්චි එක මාතාංග ජාතකය කියවන්න ඕන. දණ්ඩකාරණ්‍යය වෙච්චි විදිය සරභංග ජාතකය කියවන්න ඕන. දැන් සරභංග ජාතකය ගත්තොත් එහෙම දණ්ඩකාරණ්‍යය වුනු විදිය, ඒ ගමේ හිටියා දණ්ඩකාරණ්‍යය කියන ගමේ කිසවච්ඡ කියලා තාපසයින් වහන්සේ නමක්. කලින් මුගලන් මහරහතන් වහන්සේ. උන්වහන්සේ ඒ වනයේ භාවනා සුවයෙන් වැඩ ඉන්නකොට අමාත්‍යවරයෙක් හරීයට උපස්ථාන කලා. ඊටපස්සෙ ඔය කාලෙ රටේ හිටපු වෙසඟනක් පාරෙ යනකොට ඒ වෙසඟන රත්තරනින්ම සැරසිලා යනකොට මිනිස්සු හරී සතුටින් ප්‍රීති ඝෝෂා කර කර ඈ දිහා බලාන හිටියා. බලනවා පිටිපස්සෙන් යනවා. ඊටපස්සෙ මේක දැක්කා රජ්ජුරුවො. රජ්ජුරුවො රජමාළිගාවෙ බලලා රජ්ජුරුවන්ටවත් නෑ මෙච්චර කීර්තිප්‍රශංසා යස ඝෝෂාවක්. රජතුමාට ඊරිසියා හිතුනා වෙසඟන ගැන. පහුවදාම රාජසභාව කැඳවලා අර වෙසඟන තනතුරෙන් පහ කලා. වෙසඟන කියන එක ඒ කාලෙ රජතුමා පනවපු, එක්තරා රජතුමාගෙ නියෝගයෙන් තමයි ඈ පත් කරන්නෙ. එතනින් පහ කරලා වෙන එකියක් දැම්මා ඒකට. ඊටපස්සෙ අර වෙසඟන හොඳටම දුකට පත්වෙලා දැන්ගියා. දැන් ගිහිල්ලා දවසක් මුහුණකට හෝදලා මේ දැහැටි කකා, දත්දෙක දැහැටියකින් මැද මැද අර රජතුමාගෙ උයන මැද්දෙන් යනකොට තාපසයින් වහන්සේ දැක්කා. මේ පව්කාර ගෑණිට අර තාපසයින් වහන්සේ රුස්සන්නේ නැතිව ගියා. නොදකින් කියලා තාපසයෙක් දැක්කා කියලා තුක් කියලා කෙළ ගහලා අර දත් මැද මැද හිටපු එකෙනුත් තාපසයාට ගහලා කෙළ ගහලා ගියා. පහුවදා රජතුමා, කර්මානුරූපව රජතුමාට නිකමට අර වෙසඟන මතක් වෙලා මගෙ ඊරිසියාවටනෙ මේක වුනේ. මේ වෙසඟන ආපහු තිබ්බ තනතුරේ පත් කරන්න ඕන කියලා ආපහු තනතුර දුන්නා. වෙසඟන හිතුවේ තාපසයාට කෙල ගහපු නිසයි වස්දොස් දුරු වුනේ කියලා. ඊටපස්සෙ තව වැරැද්දකට අහුවෙලා පුරෝහිතයා බැහැර කලා, තනතුරෙන් පහ කලා රජ්ජුරුවො. පුරෝහිතයා කල්පනා කලා අර වෙසඟන තනතුරෙන් පහ කරලා ආපහු රජ්ජුරුවො ගත්තා. මොකක්හරි සෙප්පඩවිජ්ජාවක් තියෙනවාද දන්නෑ, ඒ නිසා මමත් මේක අහගන්න ඕන කියලා වෙසඟන ගාවට ගියා. කිව්වා විජ්ජාවක් තියෙනවා, මොකක්ද කියලා ඇහුවා. දත් මැද මැද ගිහිල්ලා අර උයනේ ඉන්න තාපසයට

කෙළ ගහපං කිව්වා. එතකොට දත් මැද මැද ගිහිල්ලා උයනෙ හිටපු තාපසයාට කෙළ ගැහුවා. කර්මානුරූපව, බලන්න මේ සසරේ ස්වභාවය, රජතුමා පහුවදා එයාට ආපහු තනතුර දුන්නා. ඔය අතරේ යුද්දයක් ආවා. රජතුමාගෙන් පුරෝහිතයා අහනවා ඔබතුමා යුද්ධය දිනන්න කැමැතිද. යුද්ධ කරනවාද පරදින්න, දිනන්න තේන්නම් කැමැති. ක්‍රමයක් තියෙනවා, හරියටම හරි කිරි ගහට ඇන්නා වගේ කිව්වා. මොකක්ද කිව්වා ක්‍රමය. ඔබතුමාට මතකද අර වෙසඟනට තනතුර නැතිවෙලා ආපහු ලැබුනා. ආ ඔව් ඒකනම් එහෙම තමයි. මටත් තනතුර නැතිවෙලා ආපහු ලැබුනා ඔබතුමාට මතකද. ඔව්. ඒ ඔක්කොම ලැබුනෙ අර උයනේ ඉන්න තාපසයට කෙළ ගහපු නිසා. ඔබතුමාත් කෙළ ගහලා ගියොත් එහෙම ඔය තාපසයාට යුද්ධෙ දිනනවාමයි. යුද්ධෙ දිනනවා නම් මං විතරක් ඇයි චතුරංගනී සේනාවම කෙළ ගහපල්ලා කිව්වා. ඊටපස්සෙ යුද්ධෙට යන්න කලින් පෝලිමට ගිහිල්ලා කෙළ ගහලා, තනිකර කෙළ ගොඩකින්, ලක්ෂ සංඛ්‍යාත යුධ භටයන්ගේ කෙළ වලින් වැහුනා. මේක පුදුම සහගත දෙයක්. දෑස් විවර නොකර ඉන්නවා තාපසයින් වහන්සේ, අපේ මුගලන් මහරහතන් වහන්සේ සංසාරෙ. ඊටපස්සෙ කියන්නෙ බලන්න, මේක ආරංචි වෙලා අර අමාත්‍යයා ඇවිල්ලා කෙළ ගොඩෙන් මෙහෙම වඩාගත්තා කියනවා තාපසයින් වහන්සේ. නාවලා සුවඳ පැනින් කිව්වා කියනවා අනේ, මේ යම් මොනවහරි දෙයක් වුනා නම් මේක අපේ රජතුමාට වේවා අපේ රාජ්‍යයටවත් කාටවත් හානියක් නම් වෙන්න එපා ඔබවහන්සේට මේ කරපු අකුසලය කියලා. ඊටපස්සෙ තාපසයින් වහන්සේ කිව්වා මගේ නම් කිසිම තරහක් නෑ, නමුත් දෙවිවරු කිපිලා ඉන්නෙ. ඒ නිසා මේ වෙනකොටත් දෙවිවරු කතා වෙනවා කිව්වා මුළු පෘථිවියම විනාශ කරන්නද, මේ රාජ්‍යයම විනාශ කරන්නද, එහෙම නැත්නම් මේ සේනාව විතරක් විනාශ කරන්නද, මුළු ජනපදය විනාශ කරන්නද කියලා දෙවිවරු කෝපයෙන් කතාවෙනවා කිව්වා. ඒ නිසා හොඳ වැඩේ තමයි කිව්වා පුලුවන්නම් රජතුමාට කරුණු කියන්න කිව්වා, නැත්නම් ඔහේ ඉක්මණට මේ ජනපදයෙන් යන්න. තාපසයින් වහන්සෙ ආයිත් දෑස් පියාගත්තා. සරභංග තාපසයින් වහන්සේ කියන්නෙ අපේ මහා බෝධිසත්වයයින් වහන්සේ. දිවැසින් දැක්කා තව තාපසයින් වහන්සේලා ආකශෙන් ගමන්කරන ශිෂ්‍යයො ඉන්නවා සරභංග තාපසයින් වහන්සේට. දෝලාවක් සෘද්ධියෙන් මවලා ශිෂ්‍යයො හතර දෙනෙක් දෝලාව ආකාශෙන් ඔසවාගෙන එන විදියට සලස්වලා කිසවච්ඡ තාපසයින් වහන්සේ රාජ උද්‍යානයෙන් ඔසවලා දෝලාවෙ තියලා ආකාශෙන් වඩම්මගෙන ගියා.

කොහොමද. ඇමතිතුමා රජතුමාට පණිවිඩයක් යැව්වා, සමාව ගන්න තාපසයන්ගෙන් කියලා. පිස්සුද ඕයි කියලා ඇහුවා. යුද්ධෙ දිනුවා. මේ යුද්ධෙ දිනුවෙ ඔය තාපසයට කෙළ ගහපු නිසා කිව්වා. ඊටපස්සෙ රජතුමා ආවා. අර ඇමතිතුමා දරු පවුල් එක්කම රාජ්‍යයෙන් පිටත් වුනා. හත්වෙනි දවස වෙනකොට පිනිපොද වැටුනා, මහවැස්ස ආවා. වැස්ස නතර වෙලා ආකාශෙන් සමන්පිච්ච මල් වැටුනා. පුදුමයි කට්ටියට. සමන්පිච්ච මල් වැටි වැටී තියෙනකොට එළියට පැන්නා. ඊටපස්සෙ මැණික් වැටෙන්න ගත්තා ආකාශෙන්. සතුටුයි. ඊටපස්සෙ රත්තරන් ආභරණ ආකාශෙන් වැටෙන්න ගත්තා. අදා ඉපදුනු දරුවො පවා වඩාගෙන මිනිස්සු ගෙයින් එළියට ආවා. මුළු ජනපදයේම යම්තාක් සෙනඟ ගෙවල් වලින් එළියට ආවා කියලා යමක් ඇතිද, ඒ මොහොතේ දෙපැත්ත කැපෙන මහා ආයුධ වර්ෂාවක් ආවා. සියලු දෙනාම පෙති පෙති ගැහිලා ගියා. ඊටපස්සෙ රියන් විස්සක් විතර මහපොළොව වැහෙන්න මළකුණු වැහෙන්න වැලි වර්ෂාවක් ආවා. තනිකර වැලි වලින් ඒ රාජ්‍යය වැහුනා. අදටත් අපේ භාග්‍යවතුන් වහන්සේ පහළ වෙන කාලෙත්, අදටත් ඒ ප්‍රදේශයේ මිනිස්සුන්ට ගෙවල් හදන්න බෑ. මහා කැළයක්. දණ්ඩකාරාමය. ඔය විදියට තමයි මාතංගාරාමයෙත්. ඍෂිවරුන්ගේ සාප, මනසින් වෙච්චි දේවල්. ඉතින් ඒවා ඒ කාලෙ ප්‍රසිද්ධයි. ඈ උපාලි, දැන් ඕක පිළිගන්නවා නම් සිහියෙන් උත්තර දෙන්න. කිව්වා නේද, සත්‍යයේ පිහිටලා කතා කරනවා කියලා. මෙහෙම කියපු ගමන් උපාලි සාදුකාර දුන්නා. ස්වාමීනී පළවෙනි උපමාවෙන්ම භාග්‍යවතුන් වහන්සේගේ ප්‍රශ්න විසඳීම ගැන මම පුදුම ප්‍රීතියට පත්වුනා. ඒත් ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේගේ අතිශය විචිත්‍ර වූ ප්‍රශ්න විසඳීමේ ප්‍රතිභාව අහන්න මං හරි ප්‍රියයි. මං ගොඩාක් ආසයි. ඒ නිසා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස ඒ නිසාමයි ප්‍රතිවිරුද්ධව මං නැවැත නැවැත කිව්වෙ. මට පළවෙනි උත්තරේම ඇති කිව්වා. මගේ හිත වෙනස් කරන්න. ස්වාමීනී, සුන්දරයි. ස්වාමීනී සුන්දරයි. යටට හැරිච්ච දෙයක් උඩට හැරවුනා වගෙයි. සැඟවිච්ච දෙයක් විවෘත කලා වගෙයි. මංමුලාවූ කෙනෙකුට පාර කිව්වා වගෙයි. අඳුරේ හිටපු කෙනෙකුට රූප දකින්න තෙල් පහනක් දැල්වුවා වගෙයි. භාග්‍යවතුන් වහන්සේ නොයෙක් ආකාරයෙන් මට ධර්මය දේශනා කලා. ඉතින් මම භාග්‍යවතුන් වහන්සේ සරණ යනවා. ශ්‍රී සද්ධර්මය සරණ යනවා, ආර්ය මහා සංඝරත්නය සරණ යනවා. දිවි තිබෙනතුරු මම තෙරුවන් සරණ ගිය උපාසකයෙක් විදියට පිළිගන්නා සේක්වා. බලන්න මේ බණ පද ටික, මේ බණ පද ටිකම අන්‍යාගමික කෙනෙක්, තෙරුවන් සරණ යන්න ප්‍රමාණවත් වුනානෙ.

එතකොට අද අපේ මිනිස්සුන්ට මොකද මේ වෙලා තියෙන්නෙ. කොච්චර බණ අහනවාද, කොච්චර බණ ඇහුවත් සරණ පිහිටන් නැනෙ. බුදුරජාණන් වහන්සේගේ සරණ, ධර්මයේ සරණ, සංඝරත්නයේ සරණ පිහිටන් නැනෙ. ඇයි ඒ, පින නෑ, නුවණ නෑ, බුද්ධිය නෑ, ප්‍රඥාව නෑ. ඒ කාලෙ ප්‍රඥාව, පින, බුද්ධිය ඔක්කොම තිබ්බා. එතකොට පින්වත්නි බුදුරජාණන් වහන්සේ සරණ යන්න තෙරුවන් සරණ යන්නත් ලොකු පිනක් ඕන. මොකද මේ බුද්ධ ශාසනේ පිහිට ගත්තු සියලු දෙනාම පළමුවෙන් බුදුරජාණන් වහන්සේ සරණ ගිය, ධර්මය සරණ ගියා, සංඝරත්නය සරණ ගියා. ඊටපස්සෙ මම තෙරුවන් සරණ යනවා කියලා කියනකොට උපාලි, බුදුරජාණන් වහන්සේ වදාළා ගෘහපතිය නුවණින් විමසා බලා කටයුතු කරන්න. ඔබ වාගේ ප්‍රසිද්ධ කෙනෙක් එකපාරම තීරණ ගන්නෙපා. මෙහෙම කිව්වට පස්සෙ උපාලි කියනවා ස්වාමීනී මම තවත් සතුටු වුනා, තවත් ප්‍රීතියට පත්වුනා. මට බුදුරජාණන් වහන්සේ ගැන ආදරය ඇල්ම වැඩිවුනා. භාග්‍යවතුන් වහන්සේ මට කියනවා නුවණින් විමසා කටයුතු කරන්න, එකපාර තීරණ ගන්න එපා කියලා. මං වාගේ කෙනෙක් වෙන ආගමික ශාස්තෘවරයෙක් ළඟට ගිහිල්ලා ශ්‍රාවකත්වයේ ප්‍රතිඥා දුන්නා නම් මේ නාලන්දාවේම ධජ පතාක ඇදගෙන යයි කිව්වා. උපාලි ගෘහපතියා අපගේ ශ්‍රාවකයෙක් බවට පත්වුනා කියලා ධජපතාක අදියි කිව්වා, පෙළපාලි පවත්වයි කිව්වා, උත්සව පවත්වයි කිව්වා. ඒත් බුදුරජාණන් වහන්සේ කියාහිටිනවා නුවණින් කටයුතු කරන්න එකපාර තීරණ ගන්න එපා කියලා. මම දෙවෙනි වතාවටත් බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ධර්මය සරණ යනවා, සංඝරත්නය සරණ යනවා, මම තෙරුවන් සරණ ගිය උපාසකයෙක් විදියට පිළිගන්න භාග්‍යවතුන් වහන්ස. බුදුරජාණන් වහන්සේ වදාළා එහෙනම් ගෘහපතිය, ඔබගේ ගෙදර මෙච්චර කාලයක් නිගණ්ඨයන්ට පැන් පොකුණක් වගේ තිබ්බෙ. ඒ නිසා ඔවුන්ට පිණ්ඩපාතය නොදී ඉන්න එපා කියලා. මෙයා කියනවා ස්වාමීනී පුදුම සහගතයි. මට ආයෙත් ආදරය වැඩිවුනා, ඇල්ම වැඩිවුනා. භාග්‍යවතුන් වහන්සේ මට කියනවා නිගණ්ඨයන්ට දානෙ දෙන්න කියලා. ස්වාමීනී මම මෙතෙක් අහලා තිබ්බෙ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මටම දානය දීපල්ලා, අනිත් අයට දානය දෙන්න එපා ඒකයි මහත්ඵල, මගේ ශ්‍රාවකයන්ට දානය දීපල්ලා අනිත් අයට දෙන්න එපා, ඒක මහත්ඵල නෑ කියලා කියනවා කියලයි මම අහලා තිබ්බෙ. ඒත් භාග්‍යවතුන් වහන්සේ මට කියා හිටිනවා නිගණ්ඨයන්ට පැන් පොකුණක් වගේ වුනා, ඒ අයට පිණ්ඩපාතය වළක්වන්න එපා කියලා. ස්වාමීනී ඒ අයට දෙනවද නැද්ද කියන එක මමම

තීරණය කරනවා. මම තුන්වෙනි වතාවටත් බුදුරජාණන් වහන්සේ සරණ යනවා, ධර්මය සරණ යනවා, ආර්ය මහා සංඝරත්නය සරණ යනවා. දිවිහිමියෙන් තෙරුවන් සරණ ගිය ශ්‍රාවකයෙක් බවට මාව පිළිගන්නා සේක්වා කියලා ඉල්ලා හිටියා. මෙයාගේ හිත ගොඩාක් ප්‍රීතියට සතුටට පත්වුනාද, භාග්‍යවතුන් වහන්සේ ඒ මොහොතේ දාන කතා, සීල කතා, සග්ග කතා ආදී අනුපිළිවෙල කතාව කලා. කරලා චතුරාර්ය සත්‍යය ධර්මය දේශනා කලා. ඔහුගේ හිත ගොඩාක් සංසිඳිලා දහමට සුදුසු මට්ටමට පත්වුනා. පිරිසිදු වස්ත්‍රයකට සායම් උරනවා වගේ ඒ හිතට ධර්මය කිඳා බැස්සා. යං කිඤ්චි සමුදය ධම්මං සබ්බන්තං නිරෝධ ධම්මං, හේතු ප්‍රත්‍යයන්ගෙන් හටගත්ත දේ හේතු ප්‍රත්‍යය නැතිවීමෙන් නිරුද්ධ වී යනවා කියලා දහම් ඇස පහළ වුනා. අවිද්‍යා රහිත වූ දහම් ඇස, සෝතාපන්න බවට පත්වුනා. කොහොමද, ආවෙ කොහොමද. දිග ලොම් තියෙන එළුවෙක් එහෙට මෙහෙට ගස්සලා අවසානෙ කිසිවක් නෑනෙ. බුදුරජාණන් වහන්සේගේ බණ පදයට දමනය වුනානෙ. මේ විදියට ධර්මය දැනගෙන සැක දුරු කරගත්ත, කෙසේද කෙසේද කියන විචිකිච්ඡාව නැති තමාටම ජීවිත හතක් ඇතුලත තමාම ධර්මය අවබෝධ කරගන්නා වූ අර්හත්වයට පත්වෙන්නා වූ කෙනෙක් බවට පත්වුන, සෝතාපන්න කෙනෙක් බවට පත්වුන, උපාලි ගෘහපතියා භාග්‍යවතුන් වහන්සේගේ සිරිපා කමල් වන්දනා කරලා ස්වාමීනී මං දැන් පිටත් වෙනවා කියලා පිටත් වුනා. බලන්න ඒ කාලෙ වෙලා තියෙන දේ. සූත්‍රය අවසන් නෑ, දැන් උපාලි දැන් ගෙදර ගිහිල්ලා මොනවද කරන්නෙ, නිගණ්ඨයාට මේක ආරංචි වෙන හැටි, දීඝතපස්සිට මේක ආරංචි වෙන හැටි, ඔවුන් උපාලිව හොයාගෙන එන හැටි. අවසානෙ මොකක්ද වෙන්නෙ කියලා අපි ඊළඟ දවසේ තමයි කතා කරන්න වෙන්නෙ. ඒ නිසා බලන්න අපි සරණ ගිය අපේ බුදුරජාණන් වහන්සේගේ බුද්ධානුභාවය ඒ කාලෙ පැතිරිලා ගිය හැටි. ඒ වගේ මහා ලොක්කො විදියට සද්දෙ දාගෙන එන අය බුදුරජාණන් වහන්සේ ළඟ දමනය වුනු හැටි බලන්න. අනේ බුදුරජාණන් වහන්සේ වැඩ හිටියා නම්, ඉතින් ඒකයි මිනිස්සු මොන විදියට ආවත්, භාග්‍යවතුන් වහන්සේට පේන්නෙ, එයාගේ නුවණ. සංසාරෙ කරපු පින. අඳුරු ගුහාවක දැල්වෙන පහන් සිලක් වගේ මගේ බුදුරජාණන් වහන්සේට ඔහු තුළ තියෙන යෝනිසොමනසිකාරය පේනවා. ඒ නිසා එයා කඩුවක් උස්සාගෙන පිටපස්සෙන් පන්නාගෙන එන කෙනෙක්ද, එළියට පලයං, ඇතුලට වරෙන් කියලා තමාව වෙහෙසවන කෙනෙක්ද, ඒවා බුදුරජාණන් වහන්සේට අදාළ නෑ. බුදුරජාණන් වහන්සේ ඔහුගේ

යොනිසොමනසිකාරය දකිනවා. භාග්‍යවතුන් වහන්සේ ධර්මය වස්සවනවා. කෙලෙස් ගිනි නිවෙනවා. දරුණුකම් නැතිවෙනවා. අහිංසක වෙනවා. ශ්‍රීපා කමල ළඟ දිවි හිමියෙන් සරණ යනවා. ඔබද බුදුරජාණන් වහන්සේ ළඟට පැමිණෙන්න. දිවි හිමියෙන් නිවන් දකින තුරු මගේ බුදුරජාණන් වහන්සේ සරණ යන්න. දිවිහිමියෙන් නිවන් දකින තුරු ශ්‍රී සද්ධර්මය සරණ යන්න. දිවිහිමියෙන් නිවන් දකින තුරු ආර්ය මහා සංඝරත්නය සරණ යන්න. මේ උතුම් තිසරණය අපගේ දුක් ගිනි නිවා දමත්වා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහනට දායකත්වය දැරුවේ කැනඩාවේ පදිංචි පින්වත් දර්ශ මාපටුන සහ නිලූශා මාපටුන යන දෙපළ විසින්. ඉතින් සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී මේ පින්වතුන් ආරක්ෂා කරත්වා. ඒ වගේම මියපරලොව ගිය සියලු ඥාතීන්, විශේෂයෙන් දර්ශ මාපටුන මහත්මයාගේ මියපරලොව ගිය පියාණන්ට පින් අනුමෝදන් කරනවා, එතුමා ඇතුලු මියගිය සියලු ඥාතීන් මේ පින් අනුමෝදන් වී පරලොව සැපයට පත්වේවා. ඒ වගේම මේ උතුම් මධුර මනෝහර ශ්‍රී සද්ධර්මය අපිට දේශනා කල සරල සිංහලයට පරිවර්තනය කල, ඒ වගේම අපිට දහමේ පිහිට තිසරණයේ ආනුභාවය අපිට කියලා දුන්නා වූ අපගේ පරම පූජනිය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට මේ පින් අනුමෝදන් වේවා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂම ලබත්වා. ඒ වගේම මේ රැස් කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් සියලුම සඟරුවනට, අනගාරිකා මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දූපුතුන්ට අනුමෝදන් වී ධර්මාවබෝධයම වේවා. මැයි මස 25 වෙනි දින උපන්දිනය සැමරූ නෙත්මින් මාපටුන පුතාට මේ පින් අනුමෝදන් වී ඒ දරුවාට අනාගත ජීවිතේ මේ පින් බලයෙන් සුරක්ෂිත වේවා. ජූලි මස 10 වෙනි දින උපන්දිනය සැමරූ උමන්දි මාපටුන දියණියට සහ සුජීවත්ව සිටින දෙමව්පියන්ට නිදුක් නිරෝගී සුවපත් භාවය, ධර්මාවබෝධය සැලසේවා. හර්ෂ මාපටුන, නිලූශා මාපටුන යන දෙපළ ඇතුළු පවුලේ සියලු දෙනාට තුණුරුවන්ගේ ආශිර්වාදය සම්බුදු සරණේ පිහිට ලැබේවා. ඔබ අප කාටත්, මව් දෙමව්පිය ගුරු බන්ධුමිත්‍රාදීන්ට, ශ්‍රද්ධා රූපවාහිනියෙන්, ලක්විරු ගුවන්විදුලියෙන් ධර්මය අහන, ඒ වගේම කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වී උතුම් සම්බුදු සරණේ ආනුභාවයෙන් මේ බුදු සසුනේ අපිට පිහිට ලැබේවා. දුක් ගිනි නිවාගන්න ලැබේවා. සසර දුකින් නිදහස් වෙන්න මේ පින් හේතුවාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=koG_O069YzA&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=91

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන් මාලාව කෙනෙකුට එක දිගට ශ්‍රවණය කරගන්න පුලුවන් වුනා නම් මේ උතුම් ගෞතම බුද්ධ ශාසනය පිළිබඳව මම හිතනවා විශාල ශ්‍රැතයකට, දහම් දැනුමකට ඒ වගේම නුවණ තියෙනවා නම් ඉතාමත් චිත්ත ප්‍රසාදයකට පත්වෙන්න පුලුවන් දහම් කරුණු සූත්‍ර දේශනා ගණනාවක් කියවුනා. ඉතින් අද දවසේත් ඉතාමත් අසිරිමත් ශ්‍රී සද්ධර්ම දේශනාවක් ශ්‍රවණය කරන්නෙ. ඒ සඳහා අනුග්‍රහය දක්වනවා අද දෙහිඅත්තකණ්ඩිය පින්වත් ඩී.එම්. අමිල මධුසංඛ මහත්මයා සහ ඒ.ඩබ්. නදීකා පුෂ්පකුමාරි මහත්මිය විසින්. දැන් මේ දෙදෙනා අප්‍රමාණ පිනක් අද දවසේ රැස් කරගන්නවා ගෞතම බුදුරජාණන් වහන්සේගේ ඒ උතුම් ශ්‍රී සද්ධර්මය අන් අයට අහන්න සැලැස්වීමේ පින් බලය රැස් කරගන්නවා. ඉතින් අද දවසේ අපි අහන්නෙ උපාලි ගෘහපතියා භාග්‍යවතුන් වහන්සේ සරණ ගිය කතාවේ ඉතුරු කොටස. එතකොට උපාලි සූත්‍රයේ මූලික දහම් කොටස අපි මීට කලින් දහම් වැඩසටහනේ කතා කලා. බුදුරජාණන් වහන්සේ ළඟට පාවාරිකා අඹ වනයේ නාලන්දාවේ වැඩ සිටිනකොට දීඝතපස්සි නිගණ්ඨයා ඇවිල්ලා බුදුරජාණන් වහන්සේ ඉදිරියේ කරුණක් සපථ කලා. ඒ තමයි කාය දණ්ඩය තමයි ප්‍රධාන. බුදුරජාණන් වහන්සේ වදාළා ඔය දණ්ඩ දණ්ඩ කියන කතාව රුචි නෑ, නමුත් භාග්‍යවතුන් වහන්සේ කියන්නෙ මනෝ කර්මය ප්‍රබලයි කියලා. දැන්

ඔය පින්වතුනි, කායදණ්ඩය ප්‍රබලයි කියන ඒ අදහස කයෙන් කරන දේ ප්‍රබලයි කියන අදහස සාමාන්‍යයෙන් මිනිස්සු තුලත් තියෙනවා. නිගණ්ඨ ආගම තුළ පමණක් නෙවෙයි, සාමාන්‍ය මිනිස්සු තුළත් තියෙනවා. ඒ නිසා බලන්න සෑයක් ළඟ වුනත් හොඳට පිරිත් කියලා, සිත පහන් කරගෙන මෙත් සිත වඩන එකට වඩා මිනිස්සු ගොඩාක් කැමැති මහන්සි වෙලා දාඩිය පෙරාගෙන ඇඟ මහන්සි කරලා කරන පින්වලට තමයි වැඩියෙන් කැමති. සාමාන්‍යයෙන් උදේට දානෙ වේල් සීයයි, දවල්ට දානෙ වේල් සීයයි, හවසට දානෙ වේල් තුන්සීයයි දවසට දානෙ වේල් තුන්සීයක් පූජා කරනවා කියන්නකොට කවුරුහරි කෙනෙක්. අවුරුදු සීයක් එයා ඒ විදියට පින් කරනවා නම් ඒ පින පැය භාගයක් මෛත්‍රී භාවනාව කිරීමෙන් මලක සිඹින මොහොතක්, නැත්නම් එළදෙනෙක්ගෙන් කිරි දොවන මොහොතක්, මෛත්‍රී භාවනාව කිරීමෙන් දාසයෙන් පංගුවක් තරම් වත් දවසට දාන වේල තුන්සීයක් දෙන කෙනෙක් අවුරුදු සීයක් දන් දීමේ පින පැය භාගයක් මෛත්‍රී භාවනාව කිරීමෙන් දාසයෙන් පංගුවක් තරම් කියනවා. බුදුරජාණන් වහන්සේ කරුණු කාරණා දන්නෙ. මනසින්මයි මෙත් සිත වැඩෙන්නෙ. නමුත් අපි ගොඩාක් කැමති මොකටද, අපිට හැමදාම දන් දෙන්න ඇත්නම්. හැමදාම පින් කරන්න ඇත්නම්, අපේ හිත් වල තියෙන එක, ඒක පින් තමයි, මනස ප්‍රධානයි, මනස ප්‍රබලයි. අපි කියමුකො මුලු දවසේම දාඩිය මහන්සි හෙලාගෙන පින්කමක් කරලා හිත දූෂ්‍ය කරගත්තොත්, එතකොට ඒ මුලු පින්කමම ඉවරයිනෙ. එතකොට සිත ප්‍රධානයිනෙ. අපි කියමුකො චූටි මලක් පූජා කරනවා. එක මලක් පූජා කරනවා හිත ගොඩාක් පහදාගෙන. එක මලක් හිත පහදවාගෙන පූජා කරපු පින් බලෙන් නිවන් දැකලා තියෙනවානෙ. චෛත්‍යයක් හදනවා හිත දූෂ්‍ය කරගෙන. එතකොට ඒ පින්කම ඉවරයිනෙ. වැලි සෑයක් හදනවා හිත පහදවාගෙන. ඒ පිනෙන් අර්හත්වයට පත්වෙලා තියෙනවානෙ. මනසම ප්‍රධානයි. ඉතින් බුදුරජාණන් වහන්සේ මනස ප්‍රධානයි කියන එකට දීඝතපස්සි කැමැති වුන් නෑ. ඔහු නැගිටලා ගිහිල්ලා නිගණ්ඨනාතපුත්‍රට කියනවා මෙහෙම කතාවක් ඇතිවුනා. නිගණ්ඨනාතපුත්ත කියනවා අනේ තපස්සී මේ ශ්‍රමණ භවත් ගෞතමයො මොනවද මේ කියන්නෙ. කාය දණ්ඩයනෙ ප්‍රධාන. මේ හීන වූ ලාමක වූ වචී, මනෝ ඒවා මොනවාද. එතන හිටපු උපාලිත් ඕකටම එකතු වෙනවා. ඉතින් උපාලි කියනවා මං ගිහිල්ලා වාද කරන්නම් දිග එළු ලොම් තියෙන එළුවෙක් අරගෙන එහෙට මෙහෙට දානවා වගේ, සුරා ගොට්ටක් එහෙට මෙහෙට පිඹිනවා වගේ, සුරාමල්ල සෝදනවා වගේ, මම ගිහිල්ලා එහෙට මෙහෙට පෙරලලා වාද කරන්නම් කිව්වා. දීඝතපස්සි

කිව්වා මේ අනේ පොඩ්ඩක් ඉන්නවා, ශ්‍රමණ භවත් ගෞතමයො ආවට්ඨනී මායාව දන්නවා, අන් අයගේ ශ්‍රාවකයො කරකවලා ළඟට ගන්නවා. ඔහේ යන එක මගේ හිතට රුස්සන් නෑ. නිගණ්ඨනාතපුත්ත කිව්වා දීඝතපස්සි ඔහේට ඔල්මාදෙද, ඒවා වෙනවාද, මේ උපාලි ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ ශ්‍රාවකයෙක් වෙනවා කියන එක නේඨං ඨානං විජ්ජති, සිද්ධ වෙන්න බැරි දෙයක්. ශ්‍රමණ භවත් ගෞතමයො උපාලිගේ ශ්‍රාවකයෙක් වෙනවා කියන එක ඨාන මේතං විජ්ජති, සිද්ධ වෙන්න පුලුවන් දෙයක්. පුතා, වාදයක් කරනවා නම් එක්කො මම කරන්න ඕන, නැත්නම් මේ දීඝතපස්සි කරන්න ඕන, නැත්නම් මගේ පුතේ උපාලි උඹ කරන්න ඕන. පලයං, වාද කරපං. ඇයි අර උපමා ටිකටයි කතාවටයි මෙයා හොඳටම ප්‍රීතියට පත්වුනා, නිගණ්ඨනාතපුත්ත. උපාලි ගිහිල්ලා භාග්‍යවතුන් වහන්සේත් එක්ක කතා කලා. කතා කරනකොට භාග්‍යවතුන් වහන්සේ දුන්න උත්තරවලට උපාලිගේ අදහස් එහේම්මම වෙනස් වුනා. උපාලිටම ප්‍රකට වෙන්න ගත්තා මනස තමයි ප්‍රධාන කියලා. කයවත් වචනයවත් නෙවෙයි. දැන් අපි ගත්තොත් තේරෙන උපමාවක් ගත්තොත් එහෙම මුළු නාලන්දාවම එකම මස් ගොඩක් කරනවා කියලා හයිය හත්තිය තියෙන මනුස්සයෙක් කඩුවක් අරන් ආවොත් ඒක ඇඟෙන් එයාට කරන්න බැනෙ එක මොහොතින් මස් ගොඩක් කරනවා කියන එක. නමුත් ඍද්ධිමත් ඍෂිවරයෙකුගේ සාපයක් කරලා නාලන්දාව වගේ දහගුණයක් අළු කරන්න පුලුවන්නෙ. ඒක මනසින්නෙ කරන්නෙ. ඉතින් උපාලිට මේක තේරුණාට පස්සෙ උපාලි බුදුරජාණන් වහන්සේ සරණ ගියා. උපාලි කිව්වා පළවෙනි උපමාවෙන්ම මං පැහැදුනා, ඔබවහන්සේගේ විචිත්‍ර දහම් කතාව අහන්නයි මං නැවත නැවත කරුණු ඉස්මතු කලේ කියලා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා උපාලි තීරණය ගන්නකොට තෙරුවන් සරණ යනවා කියලා ඔබ තීරණයක් ගන්නකොට නුවණින් කල්පනා කරන්න ඔබ ප්‍රසිද්ධ කෙනෙක් කියලා. ඒකටත් පැහැදුනා. මොකද වෙන අය නම් බෝඩ් ගහයි මගේ ශ්‍රාවකයෙක් වුනා කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා හරි එහෙනම් උපාලි මෙතෙක් ඔබගේ ගෙදර පැන් පොකුණක් වගේ නිගණ්ඨයන්ට දානෙ ලැබිච්ච තැනක්. ඔය දන් වැට නතර කරන්න එපා කියලා. ඒකටත් උපාලි පැහැදුනා. බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වුනු තැනට ඇවිල්ලත් මං ලවා දානෙ වළක්වන් නෑ අනිත් අයට. එතකොට බුදුරජාණන් වහන්සේට අනිත් අයට දානෙ වැළැක්වීමේ උවමනාවක් නෑ. පෙරුම් පුරන සංසාරේ කෙළවරක් නැතිව මේ ලෝක සත්ත්වයාට දන් දුන්න මගේ බුදුරජාණන් වහන්සේ සම්බුදු වුනු ජීවිතේ

තවත් කෙනෙක්ගේ දත් වැටක් නවත්වන් නෑ. ඉතින් උපාලි පුදුම විදියට පැහැදුනා. ඒ හිත පහන් වෙච්චි තැන බුදුරජාණන් වහන්සේ පිළිවෙලට අනුපුබ්බි කතාව දේශනා කලා, චතුරාර්ය සත්‍යය දේශනා කලා, උපාලි සෝවාන් වුනා. බුදුරජාණන් වහන්සේ වන්දනා කරලා උපාලි පිටත් වුනා. ඕක තමයි අපි කලින් ඉගෙන ගත්තෙ. අද බලමු එතන ඉඳලා මොකද වුනේ කියලා. ඉතින් උපාලි ගෘහපතියා ගෙදරට ගියා. යනකොටම දොරටුපාලකයා කැදෙව්වා. එම්බා දොරටු පාලකය මෙහෙ වරෙන්. අද පටන් මම බුදුරජාණන් වහන්සේ සරණ ගිය ශ්‍රාවකයෙක්. අද ඉඳලා නිගණ්ඨයන්ට මගේ ගෙදර දොර වහලා තියෙන්නෙ. නිගණ්ඨයන්ට නිගණ්ඨීයන්ට දොර වහලා. භාග්‍යවතුන් වහන්සේටත්, භික්ෂු, භික්ෂුණී, උපාසක පිරිසටත් මගේ ගෙදර තිස් පැයේම දොර ඇරලා. පැය විසිහතරෙම දොර ඇරලා. දොරටු පාලකය කවුරුහරි නිගණ්ඨයෙක් අපේ ගෙදරට ආවොත් දොර වහන්න ඕන. වහලා කියන්න ඕන, එන්න එපා ඔහොම නවතින්න, උපාලි ගෘහපතියා ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ සරණ ගියා. ඊටපස්සෙ ඒ නිසා නිගණ්ඨයන්ට, නිගණ්ඨීයන්ට අද ඉඳලා දොර වහලා තියෙන්නෙ. භාග්‍යවතුන් වහන්සේටත්, භික්ෂු භික්ෂුණී උපාසක උපාසිකාවන්ටත් දොර ඇරලා තියෙන්නෙ. ඔබට දානෙ ඕන නම් ඔහොම ඉන්න, ඔතෙන්ට දානෙ ටික ගෙනල්ලා දෙන්නම්. ගෙට වද්දගන්නවත් කැමැති නෑ. ඊටපස්සෙ එහෙමයි ස්වාමීනී කියලා දොරටුපාලකයා කිව්වා. උපාලි ගෘහපතියා භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වුනා කියලා ආරංචිය හාහෝ ගාලා පැතිරිලා ගියා. ඒක අහන්න ලැබුනා දීඝතපස්සී නිගණ්ඨයාට. දීඝතපස්සී නිගණ්ඨනාතපුත්‍ර ළඟට ගිහිල්ලා කියනවා ඕන්න ආරංචිද, උපාලි ගෘහපතියා ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ ශ්‍රාවකයෙක් වුනා කියලා ඔන්න රාවයක් යනවා. තපස්සී ඔහේට ඔල්මාදෙද. ඔහේට පිස්සුද, අපේ උපාලි ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ ශ්‍රාවකයෙක් වෙන්න. කවදාවත් වෙන් නෑ තපස්සී, ඔහේට වැරදිලා ඇහෙන්න ඇති. එක්කො ශ්‍රමණ භවත් ගෞතමයන් උපාලිගේ ශ්‍රාවකයෙක් වුනා කියන එක ඔහේට වැරදිලා ඇහෙන්න ඇති උපාලි ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ ශ්‍රාවකයෙක් වුනා කියලා. කවදාවත් සිද්ධ වෙන් නෑ මේක. එතකොට නිගණ්ඨනාතපුත්‍රට ඉර නැගෙනහිරින් පායනවා කියන එකට වැඩිය විශ්වාසයි උපාලි තමන්ගේ ශ්‍රාවකයෙක් කියන එක. දෙවෙනි වතාවටත්, තුන්වෙනි වතාවටත් දීඝතපස්සි කිව්වා අනේ එහෙම නෙවෙයි මේ එහෙම රාවයක් පැතිරිලා යනවා උපාලි භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වුනා කියලා. දීඝතපස්සී ඔහේගේ ඔලුව

ඔල්මාදෙට පත්වෙලාද, පිස්සු හැදිලාද, එහෙම එකක් වෙන්න විදියක් නෑ. හරි එහෙනම් ස්වාමීනී මං ගිහිල්ලා බලන්නම්. උපාලි ගෘහපතියාගෙන් ගිහිල්ලා අහන්නම්. අන්න තපස්සී හොඳ වැඩක්, ඔය එක එක්කෙනාගේ මේ බොරු කතා අහන් නැතිව දීඝතපස්සි යනවකො උපාලිගේ ගෙදරට. ඔන්න දැන් දීඝතපස්සි උපාලි ගෘහපතියාගේ නිවසට ගියා. යනකොටම දොරටුපාලකයා හා හා නවතින්න නවතින්න, එන්න එපා. දැන් එතකොට නිගණ්ඨනාතපුත්‍රගේ ප්‍රධානම ශ්‍රාවකයා තමයි දීඝතපස්සි. එන්න එපා, අද ඉඳලා නිගණ්ඨයන්ට නිගණ්ඨියන්ට මේ ගෙදර දොර වහලා. දැන් දොරටුපාලකයාගෙ පවර් එක දැන්. භාග්‍යවතුන් වහන්සේටත්, භික්ෂු භික්ෂුණී උපාසක උපාසිකාවන්ටත්, උපාලි ගෘහපතිතුමාගේ නිවසේ දොර විවෘත වුනා. ඔබට පිණ්ඩපාතය ඕන නම් ඔහොම ඉන්න, මං ගිහිල්ලා අරන් එන්නම්. ඊටපස්සෙ කිව්වා මට ඕන ඇති පිණ්ඩපාතයක් නෑ යනවා යන්න මං කියලා ගස්සගෙන දීඝතපස්සි හැරිලා ගියා, මහා ශෝකයකින්. ඊටපස්සෙ උපාලි ගෘහපතියා භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වුනු කතාව ඇත්ත, මං ගියා, ගිය ගමන් ගෙදරින් පන්න ගත්තා, මේ මං ඔබතුමාට කලින්ම - දීඝතපස්සි ගිහිල්ලා නිගණ්ඨයාට කියනවා. මං කලින්ම කිව්වා යන්න එපා, මට ඉව වාගේ දැනුනා මේ උපාලි කැරකිලා යන බව, මම කලින්ම කිව්වා, කියන දේ අහන් නැතිව මහලොකුවට යැව්වා, අන්න දැන් ශ්‍රාවකයෙක් වෙලා මාත් ගෙදරින් පන්න ගත්තා දොර වැහුවා කිව්වා මං යනකොටත්. ඊටපස්සෙ නෑ තපස්සී, ඔහේට වැරදිලා, ඔහේ වෙන ගෙදරකට යන්න ඇති. අපේ උපාලි එහෙම වෙන් නෑ. මේ අපේ උපාලි ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ ශ්‍රාවකයෙක් වෙන්නෙ නෑ. ඉර පායන්න පුලුවන් කිව්වා බටහිරින්, නමුත් මේක නම් වෙන්නෙ නෑ. හරි ඊටපස්සෙ ආයෙ කියනවා, නෑ මේ මට වෙච්ච දේ කියන්නෙ මාව පන්නගත්තා ගෙදරින් කිව්වා. තපස්සී ඔහේට වැරදිලා. අපේ උපාලි එහෙම වෙන් නෑ. එතකොට මේ නිගණ්ඨනාතපුත්‍රට කොච්චර උපාලි ගැන විශ්වාසයද. ඊටපස්සෙ මේ විදියට තුන් පාරක් කිව්ව තැන හරි, තපස්සි. මේක ඇත්ත නැත්ත මට දැන් ඔහේලා කියන ඒවා මට අහලා මට හරියන් නෑ, මමම යන්නම්, ගිහිල්ලා බලන්නම්, ගිහිල්ලා ඔප්පු කරලා පෙන්නන්නම්, මේ උපාලි මගේ ශ්‍රාවකයෙක් වග. ඊටපස්සෙ ඔන්න නිගණ්ඨනාතපුත්‍ර බොහෝ පිරිසක් සමඟ උපාලි ගෘහපතිතුමාගේ නිවසට ගියා. දුරින්ම පැමිණෙන නිගණ්ඨනාතපුත්‍ර දැකලා දොරටුපාලකයා ඔන්න පවර් එක ගත්තා. නවතින්න, නවතින්න ස්වාමීනී පිවිසෙන්න එපා. නිගණ්ඨයන්ට, නිගණ්ඨියන්ට අද ඉඳලා මේ ගෙදර දොර

වැහිලා. භාග්‍යවතුන් වහන්සේටත්, ඒ භික්ෂු භික්ෂුණී උපාසක උපාසිකාවන්ටත් මේ ගෙදර දොර ඇරලා. ඉතින් ඔහේලට පිණ්ඩපාතෙ ඕන නම් ඔහොම ඉන්න ඔතෙන්ටම ගෙනත් දෙනවා, මේක ඇතුලට වද්ද ගන්නෑ කිව්වා ඔහේලා අපි. ඊටපස්සෙ කිව්වා මේ ඔහේලගෙන් මට ඕන පිණ්ඩපාතයක් නෑ, මට ඕන උපාලි ගෘහපති තුමත් එක්ක සාකච්ඡා කරන්න ඕන කිව්වා. ගිහිල්ලා කියනවා කිව්වා, නිගණ්ඨනාතපුත්‍රයන් වහන්සේ සම්ප්‍රාප්ත වී ඇති බව. ඊටපස්සෙ හරි කියලා දැන් දොරටුපාලකයා ගිහිල්ලා උපාලි ගෘහපතිතුමාට කිව්වා - උපාලි ගෘහපතිතුමා දන්නවා දැන් මේවා වෙනවා කියලා. ඊටපස්සෙ හා එහෙනම් කමක් නෑ එන්න කියන්න කියලා ඒ ගෙදර මැද මිදුල තියෙනවා. ඒ මිදුලට වැඩ කරන - මෙයා මහා සිටුවරයෙක්, උපාලි ගෘහපතිතුමා. ආසන පනවලා හොඳ ලොකු ආසනයක් එළියෙ තියලා කල්පනා කලා මේ ඉන්න පිරිසගේ දැනුම, නුවණ, ඥාණය, ගුණවත්කම් දිහා බලනකොට භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයාමයි ශ්‍රේෂ්ට කියලා ඒ එන අය ඕන තැනක ඉඳගත්තාවෙ කියලා ලොකුම ආසනයේ හොඳ සිංහාසනයක් වගේ එකක් අරගෙන උපාලි ගෘහපතිතුමා ඒකෙ ඉඳගෙන හිටියා. එනකොටම ඉඳගෙන හිටියා. ඊටපස්සෙ මීට කලින් නිගණ්ඨනාතපුත්‍ර පැමිණෙනවා නම් උපාලි ගෘහපතිතුමා දුරින්ම පැමිණෙන බව දකින්නේ නම් යම් තැනක සිටද එතැන සිටම පෙර ගමන් කරනවා. දැක්කොත් අර ඈතින් එනවා එතන ඉඳලාම යනවා. ගෙන්නගෙන එන්න. අද එන්න කියලා දැන්ම පුටුවෙ ඉඳගෙන උපාලි ගෘහපතිතුමා. ඇත්තටම මේවා තමයි නිර්භීතකම. බඩවැල් වගේ නෑනෙ. කොහොමද ශ්‍රාවකයෙන්ගේ තේජස. ඊටපස්සෙ එහෙමයි ගෙන්නගෙන ඇවිල්ලා අතින් අල්ලලා තෙල් කලයක් පාත් කරන්නැහේ අග්‍රාසනයේ තැන්පත් කරවනවා ඉස්සර. දැන් මොකක්වත් නෑ, ඊටපස්සෙ ඉස්සර තමන්ගේ උතුරු සලුවෙන් ආසනය හොඳට පිහලා තමයි මහා මාණික්‍යයක් වගේ තැන්පත් කරන්නෙ. දැන් මොකුත් නෑ ඉඳගෙන නිගණ්ඨ පිරිස ආපු ගමන් කිව්වා ආ ස්වාමීනී නිගණ්ඨයන් වහන්ස ඔය තියෙන තැනක කොහෙහරි ඉඳගන්න කිව්වා. ඊටපස්සෙ නිගණ්ඨයා රත්වෙලා ගියා. නිගණ්ඨයා රත්වෙලා ගිහිල්ලා අහනවා, ඈ බොල උපාලි තොට ඔල්මාදෙ හැදුනද. උඹ උමතු වුනාද, එම්බා ගෘහපතිය තෝ ජඩයෙක් වුනාද. කොච්චර රත්වීමක් එන්න ඇතිද. එම්බා ගෘහපතිය උඹට උමතුවක් හැදුනාද. එම්බා ගෘහපතිය නුඹ ජඩව ගියාද. කියනවා මම ගිහිල්ලා වාද කරලා ශ්‍රමණ භවත් ගෞතමයන් හොඳට වාදයට පටලවාගෙන එන්නම් කියලා ගිහිල්ලා ඕකද තෝ කරගත්තෙ කියලා කිව්වා.

කියනවා එම්බා ගෘහපතිය පුරුෂයෙක් අණ්ඩකෝෂ දෙකෙන් ගිහිල්ලා කෝෂ දෙක ගලවගෙන ආවා වගේ නේද තෝ ආවෙ. ඇස්දෙක ඇතිව ගිහිල්ලා ඇස් දෙක ගලවගෙන ආවා වගේ වැඩක් නේද කලේ කියලා ඇහුවා. මහා වාදයක් කරන්නම් කියලා ඒ වාදයට අහුවෙලා ඔහේ කැරකිලා අර ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ ඒ ආවට්ඨනී මායාවට උපාලි උඹ අහුවුනා නේද. කරකැවිලා ගියා නේද. කොහොමද කියාගෙන ගියෙ. භද්දිකා භන්තෙ ආවට්ඨනී මායා, ස්වාමීනී ඔය කියන ආවට්ඨනී මායාව හරී සුන්දරයි. හරිම සුන්දරයි, කල්‍යාණී භන්තෙ ආවට්ඨනි මායා. ඒ ආවට්ඨනී මායාව ඉතාමත් සුන්දරයි. ඉතාමත් යහපත්. මේ ආවට්ඨනී මායාව, ඒ භාග්‍යවතුන් වහන්සේගේ ආවට්ඨනී මායාවට මගේ අම්මා තාත්තා, බිරිඳ, දරුවෝ, සහෝදර, සහෝදරියො, ලේ ඥාතීන්, මගේ හත්මුතු පරම්පරාවම ඒ භාග්‍යවතුන් වහන්සේගේ ආවට්ඨනී මායාවට කැරකී යත්වා. ස්වාමීනී, මේ රාජ්‍යයේ මේ ලෝකයේ යම්තාක් රජ පිරිස සිටිනවාද, සියලු රජවරු භාග්‍යවතුන් වහන්සේගේ ආවට්ඨනී මායාවට කැරකී යත්වා. ස්වාමීනී මේ ලෝකෙ යම්තාක් බමුණන් සිටිත් ද, ඒ සියලු දෙනාම ඒ භාග්‍යවතුන් වහන්සේගේ ආවට්ඨනී මායාවට කැරකී යත්වා. ස්වාමීනී යම්තාක් වෛශ්‍ය පිරිස වේද ඒ සියලු දෙනාද භාග්‍යවතුන් වහන්සේගේ ආවට්ඨනී මායාවට කැරකී යත්වා. ස්වාමීනී යම්තාක් ශුද්‍රයො සිටිත් ද, ඒ සියලු දෙනාද භාග්‍යවතුන් වහන්සේගේ ආවට්ඨනී මායාවට කැරකී යත්වා. දෙවියන් මරුන් බඹුන් ශ්‍රමණ බ්‍රාහ්මණයන් සහිත මේ සකල ලෝක සත්ත්වයාම ඒ තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ආවට්ඨනී මායාවට කැරකී යත්වා. ඔබවහන්සේලා කියන බණ වලට- දැන් උපාලි කියනවා, ඔබවහන්සේලා කියන බණ වලට මං උපමාවක් කියන්නම් කිව්වා. මේක ඉස්සර වෙච්චි දෙයක්. බමුණෙකුට තරුණ ළදක් ලැබුනා. සාමාන්‍යයෙන් වයසට ගිය කෙනෙකුට තරුණ ළදක් ලැබුනොත් එහෙම ඒ වයසට ගිය කෙනා තරුණ ලදගේ දාසයෙක් වෙනවා. ඒ කියන්නෙ කෙල්ල කියන කියන දේට නැමෙනවා. ඒ කෙල්ලට බබෙක් ලැබෙන්න ආවා. ඊටපස්සෙ කිව්වා මගේ දරුවට ඉපදෙන්න ඉන්න ළමයාට සෙල්ලම් කරන්න වඳුරු පැටියෙක් අරන් එන්න. බමුණා කිව්වා ඉපදෙන දරුවා කොල්ලෙක් වුනොත් වඳුරු පැටියෙක් ගේන්නම්. කෙල්ලෙක් වුනොත් වඳුරු පැටික්කියෙක් ගේන්නම්. දරුවා වදනකල් හිටපං, ඊටපස්සෙ වඳුරා ගේන්නම්. අරකි බැමිණිය කිව්වා මේ සෙල්ලම් දාන්න එන්න එපා, දැන්ම ගේන්න ඕන. එතකොට බමුණා බයවුනා. ගිහිල්ලා වෙළෙඳපොලෙන් වඳුරු පැටියෙක් ගෙනාවා. අර බැමිණි කිව්වා ඔය වඳුරු පැටියා අරගෙන ගිහිල්ලා සායම් කරලා

බතික් කරලා අරන් වරෙන්. හැබැයි හොඳට පොඩි කරලා තලලා, හොඳට අපුල්ලලා අරන් එන්න ඕන. අර බමුණා ගිහිල්ලා රජක, සායම් කරන කෙනාට කිව්වා මේ වඳුරු පැටියා හොඳට බතික් කරලා දෙන්න ඕන. හොඳට අපුල්ලලා තලලා පොඩි කරලා. ඊටපස්සෙ රජක කියනවා මෙයා බතික් කරන්න පුලුවන්. පාට දාන්න පුලුවන් මේ වඳුරු පැටියාගෙ ඇඟට, අපුල්ලන්න බෑ. තලන්න පොඩි කරන්න බෑ. පොඩ්ඩක් සායමක් දාලා නම් දෙන්න පුලුවන්. කිව්වා නිගණ්ඨනාතපුත්‍රයෙනි ඔහේලගේ බණ ඔන්න ඔය වගේ කිව්වා. නිකං පාටට තියෙනවා කිව්වා, අපුල්ලන්න බෑ කිව්වා. මෝඩ පිරිසකට නම් කට ඇරගෙන අහගෙන ඉඳියි කිව්වා. නමුත් ඒවත් නුවණැති කෙනාට තෝරලා බේරලා ගන්න බෑ. ඇත්තටම පුදුමයි නිගණ්ඨනාතපුත්ත මේවා අහගෙන හිටියා. ඊටපස්සෙ කිව්වා පස්සෙ කාලෙක ඔය බමුණම හොඳ රෙද්දක් ගෙනිහිල්ලා රජකට දුන්නා මේක සායම් කරලා අපුල්ලලා දෙන්න කියලා. ලස්සනට සායම් කරලා අපුල්ලලා පොඩි කරලා හරිගස්සලා දුන්නා. ඒ වගේ තමයි කිව්වා ඒ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ යම්තාක් ශ්‍රී සද්ධර්මය දේශනා කරනවාද එය නුවණැත්තන්ට වර්ණවත් කරන්න පුලුවන්, නුවණින් විමසන්න පුලුවන්, අපුල්ලන්න පුලුවන්, නැවැත නැවැත විමසලා තලා ඔපමට්ටම් කරලා නුවණ උපද්දවගන්න පුලුවන් දෙයක්, අඥාණයින්ට නම් බුදුබණ තේරෙන්නෑ කිව්වා. ඊටපස්සෙ රත් වුනා, නිගණ්ඨනාතපුත්‍ර, ඇයි වඳුරු පැටියෙකුටම දැම්මා. ඊටපස්සෙ නිගණ්ඨනාතපුත්ත අහනවා මේ උපාලි මේ රජවරුන් සහිත මේ මගධයේ, මේ නාලන්දාවේම සියලු දෙනා දන්නේ උපාලි ගෘහපතියා නිගණ්ඨනාතපුත්‍රගේ ශ්‍රාවකයෙක් කියලා. උපාලි මං උඹගෙන් මේ අහන්නෙ දැන් කියාපං උඹ කාගේ ශ්‍රාවකයෙක් ද. ඊටපස්සෙ උපාලි ආසනෙන් නැගිට්ටා. උතුරු සළුව ඒකාස කරගත්තා. භාග්‍යවතුන් වහන්සේ වැඩ සිටින දිශාවට වන්දනා කරගත්තා. කියනවා ස්වාමීනී එසේ වී නම් යම් කෙනෙකුගේ ශ්‍රාවකයෙක් වේද, උන්වහන්සේගේ ගුණ අහන්න කියලා බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ සීයක් ඒ මොහොතේම කියනවා. පුදුම සහගතයි, ඒ වෙලාවේ කියනවා අහගන්න කියනවා එහෙනම් මං කාගේ ශ්‍රාවකයෙක්ද කියලා. කියනවා ධීරස්ස විගත මෝහස්ස පබින්න කිලස්ස විජිත විජයස්ස අනේගස්ස සුසම චිත්තස්ස බුද්ධ සීලස්ස සාධු පඤ්ඤස්ස වෙස්සන්තරස්ස විමලස්ස භගවතො තස්ස සාවකො හමස්මිං, මහා නුවණැති හෙයින් ධීර නම් වූ, මේ බුදුරජාණන් වහන්සේට කියන නම්, මොහඳුර දුරලූ හෙයින් විගතමෝහ නම් වූ කෙලෙස් හුල් බිඳලූ හෙයින් පබින්නකිල නම්වූ මාර සේනා ජයගත්

මෙයින් විජිත විජය නම් වූ, කෙලෙස් දුක් රහිත හෙයින් අනේග නම් වූ, සොඳුරු සමසිත් ඇති හෙයින් සුසමචිත්ත නම් වූ, වැඩුනු සිල් ඇති හෙයින් බුද්ධ සීල නම් වූ සොඳුරු ප්‍රඥා ඇති හෙයින් සාධුපඤ්ඤ නම් වූ කෙලෙස් දුර්ගයෙන් එතෙරට වැඩි හෙයින් වෙස්සන්තර නම් වූ විමල ගුණ ඇති හෙයින් විමල නම් වූ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයා වෙමි මං කියලා දැන සිරසේ තියලා හිස නමලා වැන්දා භාග්‍යවතුන් වහන්සේ ඉන්න දිශාවට, උපාලි. භගවතො සාවකො හමස්මිං. අකතං කතිස්ස තුසිතස්ස වන්ත ලෝකාමිසස්ස මුදිතස්ස කත සමනස්ස මනුජස්ස අන්තිමසාරී රස්ස නරස්ස අනුපමස්ස විරජස්ස භගවතොතස්ස සාවකො හමස්මිං, උපාලි කියන්නෙ. සැකයෙන් එතෙරට වැඩි හෙයින් අකතං කතී නම් වූ, සතුටින් පිරුණු සිත් ඇති හෙයින් තුසිත නම් වූ, කාමගුණ බැහැර කල හෙයින් වන්තලෝකාමිස නම් වූ, ලොවේ යහපත දැක සතුටු වන හෙයින් මුදිත නම් වූ, ශ්‍රමණ ගුණ සපුරාගත් හෙයින් කතසමණ නම් වූ, උතුම් මිනිසෙක් හෙයින් මනුජ නම් වූ, අවසන් සිරුර දරන හෙයින් අන්තිමසාරීර නම් වූ, උදාර මිනිසෙක් හෙයින් නර නම් වූ, අලාමක සිත් ඇති හෙයින් අනුපම නම් වූ, කෙලෙස් දුහුවිලි නැති හෙයින් විරජ නම් වූ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයා වෙමි මං කියලා දැන සිරසේ තියාගෙන හිස නමලා භාග්‍යවතුන් වහන්සේ දෙසට වන්දනා කලා ඉන්න දිශාවට. මේ උපාලි එක බණයි ඇහුවේ. එක ගාථාවකින් බුදුගුණ දහයක් කියනවා. අසංස යස්ස කුසලස්ස වේනෙයිකස්ස සාරථී වරස්ස අනුත්තරස්ස රුචිර දම්මස්ස නික්කං කස්ස පබාසකරස්ස මානච්චි දස්ස වීරස්ස භගවතො තස්ස සාවකො හමස්මිං, සංකා රහිත - ඇත්තටම ලොකු ස්වාමීන් වහන්සේ එක වචනයක් ගානෙ උන්වහන්සේ පරිවර්තනය කරලා තියෙනවා. සංකා රහිත සිත් ඇති හෙයින් අසංසය නම් වූ, සැමට යහපත සදනා හෙයින් කුල නම් වූ, ලෝ සතුන් දමනය කරනා හෙයින් වේණෙයික නම් වූ, දහමේ මැනැවින් හික්මවන උතුම් රථාචාරියා බඳු හෙයින් සාරථී වර නම් වූ උදාර ගුණ ඇති හෙයින් අනුත්තර නම් වූ පිරිසිදු දහම් ඇති හෙයින් රුචිරධම්ම නම් වූ නිසැක ගුණ ඇති හෙයින් නෙක්ඛංක නම් වූ නුවණින් ලොව එළිය කරනා හෙයින් පබාසකර නම් වූ, මානය සිඳලූ හෙයින් මානච්ඡිද නම් වූ, මහා වීර ගුණ ඇති හෙයින් වීර නම් වූ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයා වෙමි මං. ඇයි නිගණ්ඨනාතපුත්‍ර ඇහුවෙ උඹ කාගෙ ශ්‍රාවකයෙක්ද කියලානෙ. එක වචනෙන් කිව්වෙ නෑ, බුදුගුණ සීයක් කියලා කිව්වා, මං ඒ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයෙක් කියලා. දැන සිරසේ තියලා මගේ බුදුරජාණන් වහන්සේ සිටින දිශාවට හිස නමලා වන්දනා

කලා. නිසභස්ස අප්පමෙය්‍යස්ස ගම්භීරස්ස මෝනපත්තස්ස කේමංකරස්ස වේදස්ස ධම්මට්ඨස්ස සංවුතත්තස්ස සංඝාතිගස්ස මුත්තස්ස භගවතො තස්ස සාවකො හමස්මිං, අසම ගුණ ඇති හෙයින් නිසභ නම් වූ, පමණ කළ නොහැකි ගුණ ඇති හෙයින් අප්පමෙය්‍ය නම් වූ ගැඹුරු නුවණැති හෙයින් ගම්භීර නම් වූ, මුණිදහමට පත්වූ හෙයින් මෝනප්පත්ත නම් වූ බිය රහිත ගුණයෙන් යුතු හෙයින් කේමංකර නම් වූ, ලොවෙහි දෙවියන් බඳු හෙයින් දේව නම් වූ, ධර්මයෙහි පිහිටි හෙයින් ධම්මට්ඨ නම් වූ සංවර සිත් ඇති හෙයින් සංවුතත්ත නම් වූ කෙලෙස් ඉක්ම ගිය හෙයින් සංඝාතික නම් වූ දුකින් නිදහස් වූ හෙයින් මුක්ත නම් වූ, භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයා වෙමි මං. කොහොමද ඔබට බුදුගුණ ඔහොම කිය කියා මං බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් කියලා කියන්න කොහොමද ඔබගේ හිත. එක බණයි ඇහුවෙ මේ උපාලි. නාගස්ස පන්ත සේනස්ස කීන සංයෝජනස්ස මුත්තස්ස පටිපන්තකස්ස දෝනස්ස පන්න ධජස්ස වීතරාගස්ස දන්තස්ස නිප්ප පඤ්චස්ස භගවතොතස්ස සාවකො හමස්මිං, මහා ඇත්රජෙකු වැනි හෙයින් නාග නම් වූ, ඈත වනයේ වසනා හෙයින් පන්තසේන නම් වූ, කෙලෙස් බැඳීම් ගෙවා දැමූ හෙයින් කීනසංයෝජන නම් වූ, කෙලෙසුන්ගෙන් නිදහස් වූ හෙයින් මුක්ත නම් වූ, නුවණින් යුතු කතාබහ ඇති හෙයින් පටිමන්තක නම් වූ කෙලෙස් සෝදා හල හෙයින් දෝන නම් වූ, මාන ධජ බිඳහෙළූ හෙයින් පන්නධජ නම් වූ වීතරාගී හෙයින් වීතරාග නම් වූ දමනය වූ හෙයින් දමිත නම් වූ, කෙලෙස් සිතිවිලි රහිත වූ හෙයින් නිප්පපඤ්ච නම් වූ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයා වෙමි මං. උපාලි ඒ විදියට බුදුගුණ කියනවා. දැන් බුදුගුණ පනහයි. ඒ දිශාවට වන්දනා කරලා හිස නැමුවා. ගල් ගැහිලා බලාගෙන ඉන්නවා නිගණ්ඨනාතපුත්‍ර. ඉසිසත්තමස්ස අකුහස්ස තේවිජ්ජස්ස බ්‍රහ්මපත්තස්ස නහාතකස්ස පදකස්ස පස්සද්ධස්ස විජිත වේදස්ස උවින්දදස්ස සක්කස්ස භගවතො තස්ස සාවකො හමස්මිං, දැන් බලන්න පාලියෙන් ඒ තියෙන බුදුගුණ අපිට තේරෙන විදියට ලොකු ස්වාමීන් වහන්සේ පරිවර්තනය කිරීම අපිට කොච්චර වාසනාවක්ද. සත්බුදුවරුන් අතරේ සත්වැනි මහා ඍෂි නිසා තමයි ඉසිසත්තම කියන්නෙ. කුහක ගති නැති නිසා තමයි අකුහක කියන්නෙ. ත්‍රිවිද්‍යාව ලද නිසා තමයි තේවිජ්ජ කියන්නෙ. ශ්‍රේෂ්ටත්වයට පත්වූ නිසා තමයි බ්‍රහ්මපත්ත කියන්නෙ. කෙලෙස් හෝදා හළ නිසා තමයි නහාතක කියන්නෙ. දහම් පද මැනැවින් දෙසනා හෙයින් තමයි පදක කියන්නෙ. සැහැල්ලු සිත ඇති හෙයින් තමයි පස්සද්ධ කියන්නෙ. දුටු දහම් ඇති හෙයින් විජිතවේද කියනවා.

හැමට පළමුව ධර්මදානය දෙන නිසා පුරින්දද කියනවා බුදුරජාණන් වහන්සේට. සියලු ගුණයට දක්ෂ හෙයින් සක්ක, බුදුරජාණන් වහන්සේට සක්ක කියනවා. ඒ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයා වෙමි මං. අරිහස්ස භාවිතත්තස්ස පත්තිපත්තස්ස වෙය්‍යාකරණස්ස සතිමතො විප්පතිස්ස අනභිනතස්ස නොඅපනතස්ස අනේජස්ස වසිප්පත්තස්ස භගවතො තස්ස සාවකො හමස්මිං, ආර්ය ගුණ ඇති හෙයින් අරිය නම් වූ, වඩන ලද සිත් ඇති හෙයින් භාවිතත්ත නම් වූ, උතුම් ගුණයට සපැමිණි හෙයින් පත්තිපත්ත නම් වූ, දහම මැනැවින් තෝරා දෙන හෙයින් වෙය්‍යාකරණ නම් වූ, මනා සිහි නුවණ ඇති හෙයින් සතිමා නම් වූ, නුවණින් ලොව දක්නා හෙයින් විපස්සී නම් වූ රහත් ගුණයෙන් යුතු වූ හෙයින් අනභිනත නම් වූ, සියලු නුගුණින් බැහැර වූ හෙයින් අණපනත නම් වූ, තෘෂ්ණා නැති හෙයින් අනේජ නම් වූ, වසඟ කල සිත් ඇති හෙයින් වසිප්පත්ත නම් වූ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයා වෙමි මං, එක බණක් අහලා. අපි උපතේ සිට බණ අහනවා. සම්මග්ගතස්ස ජායිස්ස අනුගතරන්තතස්ස සුද්දස්ස අසිතස්ස අප්පහීනස්ස පවිවිත්තස්ස අග්ගපත්තස්ස තින්නස්ස තාරයංතස්ස භගවතොතස්ස සාවකො හමස්මිං, අපිට මේවා අහන්න ලැබෙන එකත් වාසනාවක්. යහපත් මගට වැඩි හෙයින් සම්මග්ගත නම් වූ ධ්‍යාන වඩනා හෙයින් ජ්‍යායී නම් වූ කෙලෙස් හා ඉක්මවූ සිත් ඇති හෙයින් අනනුගතන්තර නම් වූ, පාරිශුද්ධ හෙයින් ශුද්ධ නම් වූ, කෙලෙස් රහිත හෙයින් අසිත නම් වූ, නැති නුවණ ගුණ ඇති හෙයින් අප්පහීණ නම් වූ, හුදෙකලාවේ ඇලුනු සිත් ඇති හෙයින් පවිවිඨ නම් වූ ලොවෙහි මුදුනට පත් වූ හෙයින් අග්ගපත්ත නම් වූ, සසරෙන් එතෙරට වැඩි හෙයින් තිණ්ණ නම් වූ අනුන් එතෙර කරවන හෙයින් තාරයංත නම් වූ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයා වෙමි මං. ගුණ අසූවක් දැනට. සන්තස්ස භූරිපඤ්ඤස්ස මහාපඤ්ඤස්ස වීතලෝභස්ස තථාගතස්ස සුගතස්ස අප්පටිපුගග්ලස්ස අසමස්ස විසාරදස්ස නිපුණස්ස භගවතොතස්ස සාවකො හමස්මිං, සාන්ත විහරණ ඇති හෙයින් සන්ත නම් වූ, ගම්භීර පඤ්ඤා ඇති හෙයින් භූරිපඤ්ඤ නම් වූ, මහා ප්‍රඥා ඇති හෙයින් මහාපඤ්ඤ නම් වූ, ලෝභය දුරු වී ඇති හෙයින් වීතලෝභ නම් වූ, සත්‍යයට පත් වූ හෙයින් තථාගත නම්වූ, සොඳුරු ගමනක් වැඩි හෙයින් සුගත නම් වූ, එවැනි වෙන කෙනෙකු නැති හෙයින් අප්පටිපුග්ගල නම් වූ, සමාන කෙනෙක් නැති හෙයින් අසම නම් වූ, විශාරද ඥාණ ඇති හෙයින් විශාරද නම් වූ, සියුම් නුවණැති හෙයින් නිපුණ නම් වූ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයා වෙමි මං. තන්හච්ඡිදස්ස බුද්ධස්ස වීතදූමස්ස අනුපලිත්තස්ස

ආහුණෙය්‍යස්ස යක්කස්ස උත්තම පුග්ගලස්ස අත්තදස්ස මහානො යසග්ගප්පත්තස්ස භගවතොතස්ස සාවකො හමස්මිං, තණ්හාව සිඳලූ හෙයින් තණ්හච්ඡිද නම් වූ, අවබෝධයට පත් වූ හෙයින් බුද්ධ නම් වූ, කෙලෙස් දුම් බැහැර කළ හෙයින් වීතදූම නම් වූ, කෙලෙස් හා නොතැවරීව සිටිනා හෙයින් අනුපලිත්ත නම් වූ, පුද පූජාවන්ට සුදුසු හෙයින් ආහුණෙය්‍ය නම් වූ, ශ්‍රේෂ්ට උතුමෙකු හෙයින් යක්ඛ නම් වූ, උතුම් පුද්ගලයෙකු හෙයින් උත්තමපුද්ගල නම් වූ, මිනිය නොහැකි ගුණ ඇති හෙයින් අපුල නම් වූ, මහා ගුණ ඇති හෙයින් මහා නම් වූ, මහා යසසට පත්වූ හෙයින් යසග්ගවත්ත නම් වූ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයා වෙමි මං. මේ විදියට බුදුගුණ සීයක්, හිතාගන්න බෑ. නිගණ්ඨනාතපුත්තත් අහනවා කදාසඤ්ඤුවුල්හා පනතේ ගහපති දිවේ සමනස්ස ගෝතමස්ස වණ්නාති, එම්බා ගෘහපතිය උඹ කවද්ද ඔච්චර ගුණ ශ්‍රමණ භවත් ගෞතමයන්ගේ ගුණ එකතු කලේ. සෙය්‍යතාපි භන්තෙ නානා පුප්පානං මහා පුප්පරාසි, ස්වාමීනී නොයෙක් විශාල විශාල ලස්සන මල් කන්දක් තියෙනවා. තමෙනං දක්කො මලාකාරෝ මාලාකාරන්තේවාසිවා විචිකිච්ඡං මාලං ගන්තෙය්‍ය, ඉදිකට්ටයි නූලයි තියාගෙන වේගයෙන් ලස්සනට මල් ගොතන්න පුලුවන් කෙනෙකුට ඔහුගේ අතවැසියෙකුට හෝ ලස්සන මල් ගොඩක් හම්බුනොත් අමුණගෙන අමුණගෙන යනවා. ඒවමෙව කො භන්තෙ සො භගවා අනේකවණ්ණො අනේකසතවණ්ණො බුදුරජාණන් වහන්සේ කියන්නෙ පුදුම විදියට වර්ණනා කරන්න පුලුවන් උත්තමයෙක්. සතසහස්‍ර ගුණයෙන් වර්ණනා කරන්න පුලුවන්. කෝ හි භන්තෙ වණ්ණාරස්ස වන්නං න කවිස්සති, බුදුගුණ කියන්න පුලුවන් කෙනෙකුට, ගුණ කියන්න පුලුවන් කෙනෙකුට බුදු කෙනෙකු වාගෙ කෙනෙක් හම්බවුනොත් කොහොම ගුණ කියන්න පුලුවන්ද. කොහොමද බුදුගුණ නොකියා ඉන්නෙ. ඊටපස්සෙ මේක කිව්ව ගමන් අතකො නිගණ්ඨස්ස භගවතො සක්කාරං අසහමානස්ස, බුදු කෙනෙක්ගේ ගුණ අහන්න බැරිව බුදුරජාණන් වහන්සේට වචනයෙන් කරපු සත්කාරය ඉවසාගන්න බැරිව තත්ථයො උන්නං ලෝහිතං මුඛතො උග්ගංච් ති, උණු ලේ කටින් පිටවුනා පාත්‍රයක් විතර. කොහොමද අසත්පුරුෂයන්ට බුදුගුණ ඇහෙනකොට. නිගණ්ඨනාතපුත්ත දෝලාවක අනික් නිගණ්ඨයො ටික උස්සගෙන ගියා. කොහොමද උණු ලේ පිටවෙනකල් බුදුගුණ කිව්වා කියන්නෙ. ඊඨපස්සෙ උස්සගෙන ගියා නිගණ්ඨනාතපුත්ත. ඒකෙන්ම ටිකදොහක් ඉඳලා මැරුණා, ලෝකාන්තරික නිරයේ. ඉතින් පුදුම හිතුනා මට මේ විස්තරය කියවනකොට මේ බුදු කෙනෙක්ගේ ගුණ කියන හැටි,

සෝතාපන්න ශ්‍රාවකයෙක්. අද කාලෙ දැන් බලන්න ඇත්තටම සෝතාපන්න වෙච්චි අය කිව්වෙ මම බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් කියලා, බුදුරජාණන් වහන්සේගේ ගුණ ගොඩාක් කිව්වා. අද බුදුරජාණන් වහන්සේ කවුද කියලා තමන්ගේ ගුණ ගොඩාක් කියනවා. ඒ කාලේ මාර්ගඵල ලාභීන්ගෙයි දැන් තියෙන අයගෙයි වෙනස පෙනේද. ඇත්තටම කෙනෙක් මාර්ගඵල ලැබුවා නම් ඔහුගේ කටින් පිටවෙන වචනයක් ගානෙ බුදුරජාණන් වහන්සේගේ ගුණම ඉස්මතු වෙනවා. ඔහු ගැන යමක් කියන්න තියෙනවා නම් ඔහුට කියන්න තියෙන්නෙ එකම එක වචනයයි. භගවතොතස්ස සාවකො හමස්මිං. ඒ භාග්‍යවතුන් වහන්සේගේ ශ්‍රාවකයෙක් මම කියලා. දැන් ඔය රහත් රහත් කියලා කියාගෙන යන, මාර්ගඵල ලාභී කියලා කියාගෙන යන එක්කෙනෙක්වත් මම බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් කියලා කියවෙනවදවත් බලන්නකො නිකමට. දැක්කද වෙනස. පින්වතුනි යම්කිසි කෙනෙකුට සොඳුරුව ලියන්න පුලුවන් නම් ඒකෙන් බුදුගුණ ලියන්න. ලස්සනට කතා ගොතු කරන්න පුලුවන් නම් බුදුරජාණන් වහන්සේගේ සම්බුදු ජීවිතයේ කතාව මනාව ගොතු කරන්න. මිහිරට ගයන්න පුලුවන් නම් බුදුරජාණන් වහන්සේගේ මිහිරි බුදුගුණම ගායනා කරන්න. වාදනය කරන්න පුලුවන් නම් බුදුගුණ ඉස්මතු වෙන විදියට බුදුගුණයකට වාදනය කරන්න. ලියන්න පුලුවන් නම් බුදුරජාණන් වහන්සේ ගැනම ලියන්න. නාට්‍යය, චිත්‍රපටි, කෙටිකතා, නවකතා, බුද්ධ චරිතයම අරගෙන, මේ කතාවම බලන්නකො. අර ඉන්දියාවේ හින්දුන් ඔවුන්ගේ දේව කතා හිස් සම්ප්‍රප්පලාප, ඇත්ත කතා නෙවෙයි බොරු තුච්ඡ වූ සම්ප්‍රලාප කතා, ගොතු කර කර රචුම් කර කර චිත්‍රපටි හදන හැටි බලන්න, නාට්‍ය හදන හැටි බලන්න, අපේ එවුන් ඒවම මෙහෙ අරන් ඒකට හඬකවලා මෙහෙන් කටයි ඔක්කොම ඇරගෙන මෙහෙ බලාගෙන ඉන්නවා. අපේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ එන්නෙ නෑ, කියන්නෙ නෑ, හේතුව ඇයි? නුවණැත්තන්ටනෙ මේක ගෝචර. අනිත් අයට ඕන අපුල්ලන්න බැරි පාට කරපු වඳුරෙක් ඕනෙ අනිත් අයට. පුදුම සහගතයි. මිනිස්සු රුවන්වැලිසෑය, ජයසිරිමහා බෝධිය වන්දනා කරගන්න ගියාම, දළදා වහන්සේ, ලලාට ධාතූන් වහන්සේ, මියුගුණ වෙහෙර, කිරිවෙහෙර, වන්දනා කරන්න ගියාට පස්සෙ, ශ්‍රීපාදය වන්දනා කරන්න ගියාට පස්සෙ ශ්‍රී පාදස්ථානය මේ ලංකා ධරණී තලයේ මස්තකයට ගිහිල්ලා බුදුගුණ සිහි කරලා වැඳපු කීයෙන් කීදෙනාද ඉන්නෙ. මේවා පරිවර්තනය කරලත් තියෙනවා. මහා සෑය වටේ පැදකුණු කර කර බුදුගුණ කිය කියා යන්නෝ කවරහුද. අතලොස්සක්ය.

ගිහිල්ලා කුටු කුටු ගාලා ෆොටෝ ගහලා කකුල දික් කරගෙන මොනවහරි ටිකක් කියලා ඔහේ එනවා. ඉතින් ඒ නිසා පුලුවන් විදියට සංඝයා විදියට අපි පුලුවන් අපිට ලැබෙන උපදෙස් දහම් කරුණු අපි ඔබට දුන්නා, දෙනවා. ඔබ ශ්‍රාවකත්වයේ පිහිටන්න. මේ බලන්න අසිරිමත් සම්බුදු සරණ, ඒ ඇතිවන පිහිට, ඒ උතුම් සරණ, ඒ පැහැදීම තමන්ගේ දෙයක් කරගන්න. ඒක බාහිර දෙයක් කරගන්න එපා. අපිට අපේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ අපිට චිත්ත ප්‍රසාදය ගැන උපදෙස් දෙන්නෙ මේ තුණුරුවන් ගැන පැහැදෙන එක, හිත පහදවා ගන්න එක, ශරීර අංගයක් කරගන්න කියනවා, වස්ත්‍රයක් කරගන්න එපා කියලා කියනවා. වස්ත්‍රය ලස්සනට තිබ්බට, සොඳුරුව තිබ්බට ඒක ගලවලා දාන්න පුලුවන්. අනිත් අයට ගලවලා දාන්න පුලුවන්. සැඩපහරට ගසාගෙන යන්න පුලුවන්. ඉරීලා දිරලා යන්න පුලුවන්. නමුත් ශරීර අංගයක් එහෙම වෙන් නෑ. ඒ නිසා ජීවිතේට බද්ධ කරගන්න ඕන පැහැදීම කියන එක. තුණුරුවන් සරණ යනවා කියන එක. ජීවිතේට බද්ධ කරගන්න ඕන,මගේ බුදුරජාණන් වහන්සේ කියලා. එතකොට ඒ හයිය දැන් ආපහු අද කාලෙ ලෝක සත්ත්වයා දිහා බලනකොට තුණුරුවන් ගුණ ඇහිලා පැහැදිලා, ඔය නිකං අවි ආයුධ තියාගෙන ඉන්න මොකක්හරි දේව ඇදහීම් මොනවහරි ටිකක් තියෙනවා නම් දැන් අර බණ අහනකොට තේරෙනවා මේක නම් එච්චර හොඳ නෑ කියලා. නමුත් බයයි. මේ බලන්න මේ උපාලි සරණ යන්නකො. ශ්‍රාවකයො. කොහොමද උපාලිගේ තේජස, ලොකු ආසනයක ඉඳගෙන නිගණ්ඨට කිව්වනෙ කොහෙහරි ඉඳගන්න කියලා. ඔහේ කාගෙ ශ්‍රාවකයෙක්ද කියලා අහනකොට බුදුගුණ සීයකින්, ඒ නිසා බුදුගුණ කිය කියා භාග්‍යවතුන් වහන්සේට ජීවිතේ පුද පුදා මිත්‍යා දෘෂ්ටියෙන් ගැලවෙන්න කොන්දත් පණ තියෙන්න ඕන. හිතට හයියක් තියෙන්න ඕන. එතකොට ඒ චිත්ත ප්‍රසාදය තමන්ට ශ්‍රාවක අභිමානය ලැබෙනවා. මොකද සෝතාපන්න වුන කෙනෙක්ගේ ඥාණය බලන්නකො. බුදුරජාණන් වහන්සේ හඳුනාගෙ ඉන්න හැටි බලන්නකො. සෝතාපන්න කෙනෙක්ගේ ප්‍රඥා ශක්තිය දිහා බලන්නකො. කොහොමද, අන්‍යාගමික ශාස්තෘවරු දාහකගෙ ඥාණය එකතු කලොත් සෝතාපන්න කෙනාගේ ඥාණයෙන් දාහෙන් පංගුවක් තරම්වත් නෑ කියනවා. සෝතාපන්න භාවය එච්චර නුවණක්. එච්චර ශාස්තෘන් වහන්සේ ගැන තේරෙනවා. එච්චර ධර්මය ගැන තේරෙනවා. එච්චර රහතන් වහන්සේලා ගැන තේරෙනවා. එච්චර හික්මීම ගැන තේරෙනවා. ඒ නිසා සෝතාපන්න පලයට පත්වීමත් ලේසි දෙයක් කියලා හිතන්න එපා. එයද පසෙක තැබේවා, තුණුරුවන්ට පහදින එක සුළු නෑ.

අද තියෙන්නෙ පැහැදීම, දානෙකට වඩම්මගන්නකල්, දානෙකට වැඩියෙ නැත්නම් අමනාපයි. බණට පිරිතට වඩම්මවගන්නකල්, එහෙම වැඩියෙ නැත්නම් අමනාපයි. ඊටපස්සෙ කතා බහ කරනකල්, කෝල් කරනකල් මැසේජ් දානකල් පැහැදීම තියෙනවා, නැත්නම් අමනාපයි. ඊළඟට මොකාක්හරි බාහිර සාටෝප්පයකට තමයි පැහැදීම තියෙන්නෙ. මට නම් අපේ ජීවිතේ මුණගැහිලා තියෙන ගොඩාක් අය සාටෝප්ප ශ්‍රද්ධාවන්තයො. පොඩ්ඩ වෙනස් වෙච්ච ගමන් ඒ අයගේ ශ්‍රද්ධාව වාෂ්ප වෙලා යනවා. එන්නෙ කොහොමද, අනේ දැකකත් ඇති. ඔය රූපෙ දකින්නැතිව ඉන්න විදියක් නැතෝ කියාගෙන එන්නෙ. ඇවිල්ලා පස්සෙ හිතත් රිදවලා, චිත්ත පීඩාවත් ඇති කරවලා මොකාක්හරි අර්බුදයක් හදලා ඔහේ යනවා. සඟ ගුණත් නෑ, බුදු ගුණත් නෑ, දම් ගුණත් නෑ, කෙළෙහිගුණත් නෑ. ඉතින් ඒ නිසා අද කාලෙ මහා විශාල නස්පැත්තියක් තියෙනවා පින්වත්නි අපි කතා කලාට. ඒ නිසා තමයි කියන්නෙ අඩුම තරමෙ දිවි හිමියෙන් මැරෙනකල් බුදුරජාණන් වහන්සේගේ සරණ රැකගෙන ඉන්න. ධර්මයේ සරණ රැකගෙන ඉන්න. සංඝරත්නයේ සරණ. බුදු ගුණ අහලා, දම් ගුණ අහලා, සඟ ගුණ අහලා හිත සුවපත් කරගන්න. මැරෙනකොටත් මම බුදුරජාණන් වහන්සේ සරණ ගිය කෙනෙක් කියන හිතෙන් මැරෙන්න. භාග්‍යවතුන් වහන්සේ වදාළ ධර්මය සත්‍යයක් කියලා හිතෙන්න. ඒ රහතන් වහන්සේලා උතුම් කියන අදහසින් මැරෙන්න. මං ශ්‍රාවකයෙක් කියන අදහසින් මැරෙන්නෙ. ඒ නිසා හිත ගන්න. අපි බුද්ධ ශාසනයේ දියුණුව කියන්නෙ මේ ඇඟෙන් මහන්සි වෙන එක නෙවෙයි. මනස හදාගන්න එක. මනස ශ්‍රේෂ්ටයි. ඒ නිසා මල් පහන් පූජා කලත් හිත ගැන හිතන්න. හිත කිළිටි වෙන්න දෙන්න එපා. මනසේ මනෝ කර්මය ප්‍රබලයි. දානයක් දුන්නත් අපි හිතන්නෙ හිත රැකගන්න එක නෙවෙයිනෙ. දානෙ මෙනු එක ගැන හිතනවා. කොච්චර ඕනද කොච්චර ඕනද, පිළිවෙලට බෙදන්න ඕන. රණ්ඩු වෙවී හිත් ඇරෙන වචන කිය කියා ලොකු දාන මෙනුවක් හදනවා. ඊට වැඩිය හොඳ නැද්ද හොදියි බතුයි හරි හිත පැහැදීමෙන් දෙන එක. කූටදන්ත සූත්‍රය ඇහුවා නේද. කූටදන්ත සූත්‍රයේ තියෙනවානෙ බලන්නකො තම හිත අපහදවගන්න එපා කියලා, දානයට උයන්න එන මිනිස්සු උදව් කලත් නැතත් කමක් නෑ කියන අදහසින් ඉන්න කියනවා. හිත එච්චර මනෝ කර්මය ප්‍රබලයි. ඊළඟට අපි දැන් ටික ටික, මිනිස්සු ගොඩාක් දැන් පුරුදු වෙලා ඉන්නවා මල් පූජා කරන්න, පහන් දල්වන්න, හඳුන්කූරු පූජා කරන්න දැන් පිරිකර කංචුක කප්රුක් හේවිසි තේවා පූජා ඔක්කොම දැන් ටික ටික පුරුදු වෙලා ඉන්නෙ. දැන් ටිකක් පුරුදු වෙන්නකො

හොඳට පිරිත් කියන්න තනියෙන්. පොඩ්ඩක් සෑයක් ළඟ මෛත්‍රී භාවනාව කරන්න. තුණුරුවන්ට ජීවිතේ පුදලා, තුණුරුවන් ගැනම හිතන්න. බුදුගුණ කියන්න. ඒවට අර බාහිර සංස්කාර ගොඩට වඩා තමන්ගේ හිතේ බුදුගුණ සංස්කාරයක් උපද්දවගන්නකො. ඊටපස්සෙ ජීවිතේ ටික ටික වෙනස් කරගන්න. එතකොට දැන් සමහර වෙලාවට දැන් අපි දැන් ටික ටික අපි දැන් ගොඩාක් පූජා වලින් එහෙම ඈත් වෙලා ඉන්නවා. ගොඩාක් ආරාධනා කරනවා. ඒකට හේතුව ගොඩාක් සංස්කාර වැඩියි. ගියාම බණ ටිකක් කියාගන්න වෙලාවක් නෑ. එතකොට ඇයි අර පූජාවල් තියලා, තැන්පත් කරලා ඒ ඔක්කොටම මුළු දවසම යනවා. ඊට වැඩිය හොඳ නැද්ද, හොඳට පිරිත් කියන එක. බුදුගුණ කියන එක. බුදුගුණ අහන එක. තමන් තනියම පිරිත් ටිකක් කියන එක, තමන් තනියෙන් භාවනාවක් කරන එක. අරවා නරකයි කියනවා නෙවෙයි, ඒවත් ගොඩාක් ලොකු පින්. අම්මෝ ඒවම කරගෙන ගියත් කමක් නෑ. ධර්මය ශ්‍රේෂ්ටයි. මනෝ කර්මය ශ්‍රේෂ්ටයි. මනසින් උපදවගන්න පැහැදීම ශ්‍රේෂ්ටයි. අපි එතනත් අල්ලන්න ඕන. දැන් තෙරුවන් සරණ යනවා කියන එක ඇඟෙන් නෙවෙයිනෙ කරන්න තියෙන්නෙ. තෙරුවන් සරණ යනවා කියන එක අතින් ගන්න බැනෙ. කොහොමද පින්වත්නි තෙරුවන් සරණ කියන එක අතින් ගන්නෙ. තෙරුවන් සරණ කියන එක හිතේ පිහිටන්නෙ. පැහැදීම කියන එක ඇඟෙන් බෑ. පැහැදීම කියන එක හිතේ තියෙන්න ඕන. පැහැදීම කියන එක වස්ත්‍රයක් පොරවගෙන බෑ. පැහැදීම කියන එක හිතේ තියෙන්න ඕන. පැහැදීම කියන එක වචන රවුම් කර කර කියලා හරියන් නෑ. පැහැදීම කියන එක හිතේ තියෙන්න ඕන. පැහැදීම කියන එක දාන වලින් හොයන්න බෑ. පැහැදීම කියන එක හිතේ තියෙන්න ඕන. හිතට බද්ධ කරගන්න ඕන. ජීවිතේ අංගයක් කරගන්න ඕන. මැරෙන මොහොතේත් ඒ උතුම් සරණ ඔබව සුවපත් කරනවා. ඒ නිසා දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම මගේ බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ආර්ය මහා සංඝරත්නයම සරණ යනවා කියලා හිතන්න. මේ උතුම් තිසරණය අපි මේ දුකින් නිදහස් කරත්වා.

ඉතින් අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව සඳහා දායකත්වය දරන්නේ දෙහිඅත්තකණ්ඩියේ පදිංචි පින්වත් ඩී.එම්. අමිල මධුසංඛ මහත්මයා සහ ඒ.ඩබ්. නදීකා පුෂ්පකුමාරි මහත්මිය විසින්. එතකොට මේ පින්වතුන් විශාල පිනක් රැස් කරගන්න යෙදුනා අද ධර්මදානය සිද්ධ කරලා. සියලු දෙවියෝ මේ

පින් අනුමෝදන් වී මේ පින්වතුන් ආරක්ෂා කරත්වා කියලා දෙවිවරුන්ට පින් අනුමෝදන් කරනවා. මීට වසර තිහකට පෙර මියපරලොව ගිය ඩී.එම්. සිරිසේන පියාණන්ට, ඩී.එම්. මුදලිහාමි පියාණන්ට, ටී.බී. සුදුබණ්ඩා පියාණන්ට, ඒ.ඩබ්ලිව්. අබේකෝන් බණ්ඩා මහත්මයාට, ඩී.එම්.පී.ඩබ්. සඳරාජබණ්ඩා මහත්මයාට, ඒ වගේම ඒ සියලු දෙනා සීයලා, ඒ සීයලා සියලු දෙනාට ජේ.එම්. නන්දාවතී, ඩී.ඩබ්. පොඩිමැණිකේ, එච්.එම්. ලොකුමැණිකා යන ආච්චිඅම්මලාට මීට මාස තුනකට පෙර මියපරලොව ගිය එච්.ඒ. පුංසිකා ආච්චි අම්මාට පින් අනුමෝදන් වේවා. මේ පින් ඒකාන්තයෙන් අනුමෝදන් වී ඒ ඇත්තෝ පරලොව සැපයට පත්වේවා. ඒ වගේම ඔබ කවුරුත් නමින්ද මියගිය ඥාතීන් මේ පින් අනුමෝදන් වී පරලොව සැපයටම පත්වේවා. ඒ වගේම මේ මධුර මනෝහර ශ්‍රී සද්ධර්මය අපිට මේ විදියට සිංහලයට පරිවර්තනය කරලා මේ ධර්ම විනය ඉගෙන ගන්නට මේ බුද්ධ ශාසනයේ තිසරණය අපිට හඳුන්වලා දීලා, ශාසනයේ පිහිට ලබාදුන් අපගේ පරම පූජනීය ගුරු දේවොත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂම සැලසේවා. ඒ වගේම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර සංඝරත්නයටත්, අනගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් ධර්මාවබෝධයට මේ පින් හේතු වාසනා වේවා. ඒ වගේම දැනට අසනීප තත්ත්වයෙන් පසුවන ඒ.ඩබ්. උපාලි අබේකෝන් පියාණන්ට නිදුක් නිරෝගී සුවපත්භාවය මේ පින් බලයෙන් සැලසේවා. සුජීවත්ව සිටින ජී.ඩබ්. සැලෝකුමාරි, ටී.බී. විමලාවතී යන මෑණිවරුන් දෙපළට සහ එස්.එම්. ජයවීර පියාණන්ට, එස්.එම්. ජෝන් සීයාට මේ පින් අනුමෝදන් වේවා. ඩබ්.ඒ. ලොකුමැණිකා ආච්චිඅම්මාට නිදුක් නිරෝගී සුවපත් භාවය සැලසේවා. වයස අවුරුදු තුනක් පමණ වන අදීශ තත්සර පුතාට මේ පින් අනුමෝදන් වී ඒ දරුවාගේ අනාගත ජීවිතය අසිරිමත් සම්බුදු සරණේ අනුහසින් සුවපත් වේවා දියුණු පමුණු වේවා, ශාසන පිහිට වේවා, දෙහිඅත්තකණ්ඩියේ පදිංචි පින්වත් ඩී.එම්. අමිල මධුසංඛ මහත්මයා, ඒ.ඩබ්. නදීකා පුෂ්පකුමාරි මහත්මිය ඇතුලු ඒ පවුලේ සියලු දෙනාට මේ පින් බලයෙන් කායික මානසික දුක් පීඩා ආදිය දුරු වේවා. අසිරිමත් ගෞතම බුද්ධ ශාසනයේ සම්බුදු සරණේ සැනසී නිවනින් සැනසෙන්නම මේ පින් හේතුවාසනා වේවා. ඔබ අප කාටත් මව් දෙමව්පිය ඥාතිබන්ධු මිත්‍රාදීන්ට, ශ්‍රද්ධා රූපවාහිනියේ ලක්විරු ගුවන් විදුලියේ ධර්මය ශ්‍රවණය කරන, දායකත්වය සලසන, ඒවගේම කාර්ය මණ්ඩලයට ධර්මය ශ්‍රවණය කරන ඔබ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. අපි කාටත් උතුම් තිසරණය මනාව ජීවිතයේ පිහිටුවාගෙන ගෞතම

සසුනේ පිහිට පිළිසරණ ලබාගන්න වාසනාව ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=kVr3G30esr4&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=92

සාදු සාදු සාදු!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදු සාදු සාදු!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන ඔබ දැන් ශ්‍රවණය කරන්නෙ. බොහෝ කාලයක ඉඳලා අපගේ භාග්‍යවත් අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අසිරිමත් සම්බුදු ගුණ ඔබ ඉගෙන ගන්නවා. බුදු කෙනෙක්ගේ ආනුභාවය, ධර්මයේ ආනුභාවය, බුද්ධ ශාසනයේ ආනුභාවය, තථාගත ශ්‍රාවකයන්ගේ ආනුභාවය ඔබට මේ දේශනා ශ්‍රවණය කරනකොට දැනෙනවා. තිසරණයට පැමිණෙන්න කැමැති කෙනෙකුට මේ සා විශාල අනුග්‍රහයක් මේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහනින් ඔබට සැලසෙනවා. අද දවසේ ඉතාලියේ වෙරෝනා නගරයේ පදිංචි පින්වත් ගාමිණී රාජපක්ෂ මහත්මයා සහ පුණ්‍යා නන්දනී යන දෙපළ විසින් තමයි අද දවසේ දායකත්වය දරන්නෙ. ඉතින් මේ පින්වතුන් කරදර කම්කටොළු මධ්‍යයේ තිබෙන ලෝකයේ රටක ධර්ම දානයෙන් අප්‍රමාණ පින් රැස් කරගන්නවා, ඉතින් ඔය ඇත්තන්ට නිදුක් නිරෝගී සියලු ආරක්ෂාවත් ශාසනයේ පිහිටත් සැලසේවා කියන අදහසින් මෙත් සිතින් පුණ්‍යානුමෝදනාවෙන් අද අපි මේ ධර්ම දේශනාව ආරම්භ කරනවා. එතකොට මීට කලින් දේශනා වල අපි ඉගෙන ගත්තා. දැන් උපාලි සූත්‍රය ඉගෙන ගන්නකොට බුද්ධ ශාසනයේ බුදුරජාණන් වහන්සේ ඉදිරියට අභියෝග පැමිණිච්ච හැටි. බුදුගුණ කියනකොට අන්‍යාගමිකයන්ගේ කටින් උණු ලේ වැක්කෙරිච්ච හැටි, කියන්නෙ එච්චරම කැමැති නෑ බුදුරජාණන් වහන්සේට ප්‍රශංසාවක් කරනවාට. ඉතින් නිගණ්ඨනාතපුත්ත උණු ලේ වමනෙ ගිහිල්ලම මැරිලා ගිය හැටි අපි ඉගෙන ගත්තා. ඉතින් බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ ඔය වගේ බුදුරජාණන් වහන්සේ ඉදිරියට අභියෝග එද්දි ඒ අභියෝග ජයගත් ආකාරය, ඔවුන්ට ධර්මය කරුණු සහිතව ඉස්මතු කරපු ආකාරය කෙළවරක් නැතිව සූත්‍ර දේශනා වල තියෙනවා. ඒවා එක වැඩසටහනක කරන්න ගියොත් ධර්ම දේශනා සිය ගාණක් කරන්න පුලුවන්, බුදුරජාණන් වහන්සේ ඒ අය දමනය කරපු හැටි. මට මතක හැටියට පසුගිය කාලෙ අපි සූත්‍ර දේශනා කිහිපයක් බමුණො දමනය කරපු හැටි කිව්වා. ඊළඟට තියෙනවා සූත්‍ර දේශනා ගණනාවක් තියෙනවා ගෘහපතිවරු දමනය කරපු හැටි. තව තියෙනවා ගම් ප්‍රධානීන්, ඒ කියන්නෙ ගම් ප්‍රධානීන්නට කියන නමක් තමයි ගාමිණී කියලා. ඒ ගම් ප්‍රධානීන් දමනය කරපු හැටි, භාරද්වාජවරු දමනය කරපු හැටි. ඊළඟට පරිබ්‍රාජකයො දමනය කරපු හැටි. අචේලකයො දමනය කරපු හැටි. ඊළඟට පිරිවැජියො දමනය කරපු හැටි, පිරිවැජි කාන්තාවො දමනය කරපු හැටි,

දෙවිවරු දමනය කරපු හැටි, සුරයො දමනය කරපු හැටි, අසුරයො දමනය කරපු හැටි, ඊළඟට නාගයො දමනය කරපු හැටි, ඊළඟට දේව බ්‍රහ්මාදීන් දමනය කරපු හැටි, මිනිස්සු දමනය කරපු හැටි, ශ්‍රාවකයො දමනය කරපු හැටි මගේ බුදුරජාණන් වහන්සේ සියලු දෙනා දමනය කලා. බුදුරජාණන් වහන්සේට සුර අසුර නාග ගාන්ධර්ව දේව මනුස්ස ආදී සියලු දෙනා අතර බුදුරජාණන් වහන්සේ සරණ ගිය බොහෝ දෙනා සිටිනවා. ඔවුන් ශාසන පිහිටට ගත්ත හැටි ඒ දේශනා වල තියෙනවා, අපි පින්වතුනි මේ බුද්ධ දේශනා උගන්වමින් අපි ප්‍රවේශයක් හදලා දෙන්නෙ. සොයාගෙන යන්න කියලා. දොරටුවක් විවෘත කරලා දෙන්නෙ. මේ දොරටුවෙන් ඇතුල්වෙලා මේ බුද්ධ රාජ්‍යයේ සැරිසරන්න කියලා අපි කියලා දෙන්නෙ. ඒ නිසා මේ වගේ දේශනා අහනකොට හැමදෙයක්ම හාමුදුරුවොම ගෙනල්ලා කණ ඇතුලෙම වක්කරයි කියලා හිතන් නැතිව, තමනුත් පුලුපුලුවන් විදියට බණ පොතක් බලන්න. ඔබත් ධර්මය සොයාගෙන යන්න. ඒ දහම් මිහිර අත්විඳින්න. ශාසනයේ පිහිට ගන්න. මේ ජීවිතේ හිස් විදියට ගෙවෙන්න දෙන්න එපා. මේ ජීවිතේ හිස් විදියට මැරෙන්න දෙන්න එපා. ඒක ඔබට මහා අභාග්‍යයක්. ඉතින් අද බලමු. අදත් තියෙනවා ලස්සන සූත්‍ර දේශනාවක් අපි ඉගෙන ගන්නෙ. සීහ සේනාපති සූත්‍රය. මේකත් අර නිගණ්ඨ මැරෙන්න කලින් වෙච්ච් දෙයක්. උපාලිගේ සිද්ධියට කලින් මේක. ඒ කාලෙ භාග්‍යවතුන් වහන්සේ විශාලා මහනුවර මහවනයේ කූටාගාර ශාලාවේ වැඩ වාසය කරපු කාලෙ. ප්‍රසිද්ධ ප්‍රසිද්ධ ලිච්ඡවීන් රැස්වීම් ශාලාවලට එකතු වෙලා ඔවුහු සාකච්ඡා කරන සමයේ බුදුරජාණන් වහන්සේගේ ගුණ, ශ්‍රී සද්ධර්මයේ ගුණ, ආර්ය මහා සංඝරත්නයේ ගුණ, තුණුරුවන් ගුණ කිය කියා සන්තෝෂෙන් ඉන්නවා. එසමයෙහි නිගණ්ඨනාතපුත්තගේ ශ්‍රාවකයෙක් වන සීහසේනාධිපති, ලිච්ඡවි රජවරුන්ගේ සෙන්පතියා, සීහසේනාධිපති, සීහසේනාධිපති ඒ පිරිස අතර හිටියා. හැබැයි ඔහු නිගණ්ඨගේ ශ්‍රාවකයෙක්. එතකොට සීහසේනාධිපතිට හිතුනා මේ ලිච්ඡවි රජවරු, ලිච්ඡවි පිරිස සන්ථාගාරයේ රැස් වෙලා, රැස්වීම් ශාලාවේ රැස් වෙලා බුදු ගුණ කියනවා, දම් ගුණ කියනවා, සඟ ගුන කියනවා, මේ කියන විදියට නම් ඒකාන්තයෙන්ම මේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ සම්මා සම්බුදුවරයෙක්මයි. ධර්මය නම් ස්වාක්ඛාත මයි, සංඝයා නම් සුපටිපන්නමයි. බුදු ගුණ, දහම් ගුණ, සඟ ගුණ කියන ඒවා සුලුපටු දෙයක් නෙවෙයි මේ කියන්නෙ. අනේ මටත් ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ දකින්න ඇත්නම් කියලා හිතුනා සීහසේනාධිපතිට. සීහසේනාධිපති නිගණ්ඨනාතපුත්‍රයා මුණගැහිලා කියනවා ස්වාමීනී මම

ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ බැහැදකිනු පිණිස එළඹෙන්න කැමැතියි, මම එතෙන්ට යන්න කැමැතියි. හා කියයිද, කිව්වා නම් එළු ලොම් වලින් අල්ලලා එළුවෙක් එහෙට මෙහෙට ගසලා දානවා වගේ ශ්‍රමණ භවත් ගෞතමයො වාදයෙන් පෙළලා දාලා නිරුත්තර කරලා ඔබවහන්සේගේ පාමුලට ගේන්නම් කියලා කිව්වා නම් උඩ පැන පැන කියයි පල, පල කියලා. දැන් කිව්වම මම ගිහිල්ලා නිකන් කතා කරලා එන්නම් කියලා, ඒ නිගණ්ඨනාතපුත්‍ර කියනවා සීහ ඔහේට පිස්සුද. කියනවා ශ්‍රමණ භවත් ගෞතමයො අක්‍රියාවාදී. නැත්නම් අක්‍රියාවාදි කියන්නෙ කරන්න එපා කරන්න එපා කිය කියා බණ කියන කෙනෙක්. ඔබ යමක් කරන කෙනෙක්. කරන්න උත්සාහ කරන කෙනෙක්. අන් අය ලවා යමක් කරවන කෙනෙක්. ක්‍රියාවාදී වූ ඔබ අක්‍රියවාදී වූ ශ්‍රමණ භවත් ගෞතමයො දකින්න යන්න එපා. ඔහේට හොඳ නෑ, ඔය වාගේ අය මුනිච්ඡි වෙන්නැති එකයි හොඳ. මොකක්ද මේ සීහට එකපාරම ඇතිවුනු ඔල්මාදෙ. සීහ සෙන්පතියා ආයෙත් කරබාගත්තා. නිහඬවුනා. ආයෙ සාමාන්‍ය විදියට වැඩ කටයුතු කලා, බුදුරජාණන් වහන්සේ බැහැදකින්න යන්න තිබුනු ආසාව නැතිවුනා හිතේ, සන්සිඳිලා ගියා. කොහොම කරදර ගොඩක්ද ඒ කාලෙ මිනිස්සුන්ට වෙලා තියෙන්නෙ. කලාතුරකින් ලෝකෙට පහළ වෙන තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ බැහැ දකින්න එකම රාජ්‍යයේ එකම ගම් ප්‍රදේශයේ ඉද්දිත් තියෙන කරදර ටික බලන්න. දෙවෙනි වතාවටත් ප්‍රසිද්ධ ප්‍රසිද්ධ ලිච්ඡවීහු රැස්වීම් ශාලාවේ රැස්ව නොයෙක් අයුරින් බුදුගුණ කියන්නෝය. ධර්මයේ ගුණ කියන්නෝය. සංඝයාගේ ගුණ කියන්නෝය. බුදු ගුණ, දහම් ගුණ, සඟ ගුණ ඔවුන් කතා කර කර ඉන්නකොට එතනත් සීහසෙන්පතියා හිටියා. සීහසෙන්පතියා කල්පනා කලා මෙච්චර ගුණ කියන්නෙ, එහෙනම් ශ්‍රමණ භවත් ගෞතමයෝ ඒකාන්තයෙන්ම සම්මා සම්බුද්ධයි. නැත්නම් මෙහෙම බුදුගුණ කියන්න බෑ. නැත්නම් මෙහෙම ධර්මයේ ගුණ කියන්න බෑ. නැත්නම් මෙහෙම ශ්‍රාවකයන්ගේ ගුණ කියන්න බෑ. දෙවෙනි වතාවටත් සීහ සෙන්පතියා. එතකොට කොච්චර ගෞරවයකින් ඉන්න ඇතිද නිගණ්ඨනාතපුත්තට. දෙවෙනි වතාවටත් ගිහිල්ලා නිගණ්ඨට කියනවා අනේ මට මේ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මුණගැහෙන්න යන්න හිතෙනවා කියනවා. දෙවෙනි වතාවටත් නිගණ්ඨ කිව්වා අනේ සීහ ඔහේට ඔල්මාදෙද. ඔහේ යමක් කරන මනුස්සයෙක්නෙ. අන් අය යමක් කරන්න පොළඹවන කෙනෙක්නෙ. ක්‍රියාවාදී වූ ඔබ, අක්‍රියාවාදී වූ ශ්‍රමණ භවත් ගෞතමයො ළඟට යන්න එපා. කරන්න එපා එපා එපා කියලා කිසි දෙයක් කරන්න දෙන් නෑ කිව්වා

ඔය ශ්‍රමණයා. ඔහේට මොකක්වත් අපලයක්වත් ද කිව්වා. ආයෙත් සීහසෙන්පතියාගේ හිත එහේම්මම සන්සිඳිලා ගියා. ඊටපස්සෙ තුන්වෙනි වතාවටත් රැස්වීම් ශාලාවේ ප්‍රසිද්ධ ප්‍රසිද්ධ වූ ලිච්ඡවීන් කතා කර කර ඉන්නවා, බුදුරජාණන් වහන්සේ ගැන, ධර්මය ගැන, සංඝරත්නය ගැන. මේ වෙලාවේත් හිතෙන්නේම මට ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ මුණගැහෙන්න යන්න ඇත්නම් කියලා සීහසෙන්පතියාට හිතෙනවා. සීහසෙන්පතියා කල්පනා කරනවා මං දැන් දෙපාරක් ගිහිල්ලා නිගණ්ඨගෙන් ඇහුවා. යන්න දුන් නෑ. මං දැන් උන්දැලට කියලා ගියත්, නොකියලා ගියත් උන්දලා මට මොකක් කරන්නද. ඒ නිසා මම යන්නෑ ආයෙ කියන්න. මම යනවා ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ළඟට කියලා මෙදාපොටේ නොකියා ගියා. ඉතින් බුදුරජාණන් වහන්සේ ළඟට සෙන්පතියා ගියා කියනවා, එතකොට සීහසෙන්පතියා කියන්නෙ කවුද කියලා හිතන්න මෙන්න ඊළඟ උපමාව. ඉක්බිති සීහ සෙන්පති තෙමේ රථ පන්සීයකින් පමණ යුතුව දහවල් කාලයේ භාග්‍යවතුන් වහන්සේ බැහැදකින්න විශාලා මහනුවරින් නික්ම ගියේය. එතකොට සීහ සෙන්පතිතුමා ගියෙ යානාවල් පන්සීයකින්. අද කාලෙ නම් කාර් පන්සීයක්. අද කාලෙ මගේ හිතේ ජනාධිපති, ඇමති, අගමැති කෙනෙක් ආවත් කාර් පන්සීයක් එකපාර එන් නෑ නේද. එතකොට සීහසේනාපතිගේ පරිවාර සම්පත්තිය බලන්න. කරත්ත පන්සීයක් නැවැත්තුවා කියනවා විශාලා මහනුවර, සීහසෙන්පතිතුමා කරත්තෙන් බහිනකොට. කොහොම පවර් එකක්ද සීහසෙන්පතිතුමාගේ. ඉතින් සීහසේනාධිපති භාග්‍යවතුන් වහන්සේ ළඟට පා ගමනින් ගිහිල්ලා, භාග්‍යවතුන් වහන්සේට ආදරයෙන් ගෞරවයෙන් වන්දනා කරලා එකත් පස්ව හිඳගෙන බුදුරජාණන් වහන්සේට කියා හිටිනවා ස්වාමීනී, ශ්‍රමණ ගෞතම තෙමේ අක්‍රියවාදියෙකි. නොකිරීම පිණිස දහම් දෙසයි. එවැනිව ශ්‍රාවකයන් හික්මවයි කියලා මං අහලා තියෙනවා. එතකොට කවුරුහරි කිව්වොත් ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අක්‍රියවාදියෙක්, කරන්න එපෝ, එපෝ එපෝ කියලා කිසි දෙයක් කරන්න දෙන් නෑ කියලා හැබෑවටම ඔය කියන කතාව ඇත්තක්ද. ඊටපස්සෙ කියනවා ස්වාමීනී ඔබවහන්සේට අභූත චෝදනා කරලා ඔබවහන්සේ නොකියපු ඒවා සමාජයේ කියලා ඔබවහන්සේට නින්දාවක් වෙනවාට මං කැමැති නෑ. ඔබවහන්සේ කියපු දෙයක් නම් කිව්වා කියලා කියන්න. භාග්‍යවතුන් වහන්සේ වදාළා සීහ යම් ක්‍රමයකින් කවුරුහරි මට කියනවා නම් අක්‍රියවාදී, යමක් කරන්න එපා එපා එපා, නොකිරීම පිණිස දහම් දෙසනවා, ඒ පිණිස ශ්‍රාවකයො හික්මවනවා

කියලා මං ගැන කිව්වොත් එහෙම කියන්න පුලුවන් ක්‍රමයක් තියෙනවා. ඒක එක පැත්තකින් හරි. දැන් සීහසෙන්පතිතුමාගේ කොන්ද කෙලින් වුනා. ඊළඟට ඇහුවා, කියනවා සීහ කවුරුහරි කිව්වොත් මට ක්‍රියාවාදී කියලා කරන්න, කරන්න, කරන්න කියලා කියනවාය, ඒ කෙරෙහි අන් අය සමාදන් කරවනවා කියලා කිව්වොත් සීහ එවැනි පැත්තකුත් තියෙනවා. සීහ යම් හෙයකින් ශ්‍රමණ භවත් ගෞතමයො උච්ඡේදවාදී, උච්ඡේදවාදය කියන්නෙ නැතිවීම, විනාශය ගැන බණ කියනවා කියලා කිව්වොත්, අන් අය ඒකෙ සමාදන් කරවනවා කියලා කිව්වොත් වරදක් නෑ සීහ, එහෙම පැත්තකුත් තියෙනවා. සීහ යම්කිසි කෙනෙක් කිව්වොත් එහෙම ශ්‍රමණ භවත් ගෞතමයො දේගුප්ජවාදී කියලා, ඒ කියන්නෙ පිළිකුල් සහගත බව පිළිබඳව දහම් දෙසනවා, පිළිකුල් කිරීම පිළිබඳව දහම් දෙසනවා, පිළිකුල් බවට ශ්‍රාවකයො හික්මවනවා කියලා කිව්වොත් සීහ එවැනි පැත්තකුත් නම් තියෙනවා. සීහ යම් ක්‍රමයකින් කවුරුහරි කිව්වොත් ශ්‍රමණ භවත් ගෞතමයො වේනෙහිකවාදී, වේනෙහිකයෙක් කියලා, ඒ කියන්නෙ නැසීම පිළිබඳව දහම් දේශනා කරනවා, ශ්‍රාවකයො ඒ පිළිබඳව හික්මවනවා කියලා ඒකත් එක පැත්තකින් හරි. මේ තමයි ඒ කාලෙ තිබ්බ වාද. සීහ යම්කිසි කෙනෙක් කිව්වොත් එහෙම ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ තපස්සී, තපස් රකින කෙනෙක්, තපස් රැකීම පිණිස දහම් දෙසනවා කියලා එහෙම ක්‍රමයකුත් තියෙනවා, ඒකත් වරදක් නෑ. සීහ යම් ක්‍රමයකින් කවුරුහරි කිව්වොත් ශ්‍රමණ භවත් ගෞතමයො අපගබ්භයෙක්ය කියලා, ඒ කියන්නෙ මව් කුසේ ඉපදීම නැති කරන කෙනෙක් කියලා කිව්වොත්, ගැබෙන් බැහැර වීම පිණිස දහම්දේශනා කරනවා කියලා කිව්වොත්, ශ්‍රාවකයොත් එහි හික්මවනවා කියලා කිව්වොත් එහෙම කවුරුහරි සීහ එහෙම පැත්තකුත් තියෙනවා. සීහ යම්කිසි කෙනෙක් කිව්වොත් එහෙම අස්සාසකස්සො, අස්වැසීම පිණිස දහම් දෙසන කෙනෙක්, අන් අය අස්වසන කෙනෙක් කියලා ඒකත් හරි. දැන් ඔන්න කාරණා අටයි. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සීහ, මොකක්ද මං අර මුලින් කිව්වෙ අකිරියවාදී කියලා, ක්‍රියා කරන්න එපා එපා කියලා දහම් දෙසනවා කියලා. ඒ තමයි සීහ, බුදුරජාණන් වහන්සේ, මම වනාහි නොකිරීමක් ගැන කියමි, මොකක්ද ඒ? කාය දුෂ්චරිතය කරන්න එපා. කයෙන් වැරදි කරන්න එපා, වචනයෙන් වැරදි කරන්න එපා. සිතින් වැරදි කරන්න එපා. අනේක පාපී දුෂ්චරිතයන් කරන්න එපා කියලා මම දහම් දේශනා කරනවා. ඔන්න ඔය බණ පද ටික අරගෙන ඔය ක්‍රමයෙන් කිව්වොත් අකිරියවාදී කියලා හරි. වෙන ඒවා නෙවෙයි. එතකොට සීහ යම් ක්‍රමයකින් කිව්වොත් ශ්‍රමණ භවත් ගෞතමයන්

වහන්සේ ක්‍රියාවාදී කියලා එහෙම කිව්වට කමක් නෑ, කොහොමද කියන්නෙ, තථාගතයන් වහන්සේ, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා කාය සුචරිතය කරන්න. වචී සුචරිතය කරන්න, මනෝ සුචරිතය කරන්න කියලා නොයෙක් වූ කුසල් දහම් කරන්න කියලා කිරීමක් ගැන කියනවා. අන්න ඔය පැත්තෙන් නම් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ක්‍රියාවාදී කියලා කිව්වට කමක් නෑ. සීහ, යම් ක්‍රමයකින් කවුරුහරි කිව්වොත් උච්ඡේදවාදී බුදුරජාණන් වහන්සේ කියලා, කියන්නෙ නැසීම පිණිස විනාශය පිණිස දහම් දේශනා කරනවා කියලා ඒක හරි, මම රාගය විනාශ වීම පිණිස, ද්වේෂය විනාශ වීම පිණිස, මෝහය විනාශ වීම පිණිස නොයෙක් පාපී අකුසල් විනාශ කිරීම පිළිබඳව දහම් දේශනා කරනවා. කෙලෙස් විනාශ කිරීම පිණිස. ඒ ක්‍රමයෙන් නම් කිව්වට කමක් නෑ, උච්ඡේදවාදී කියලා. සීහ යම්කිසි කෙනෙක් කිව්වොත් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ ජේගුප්සියෙක් කියලා, ඒ කියන්නෙ පිළිකුල් බව පිණිස දහම් දේශනා කරන පිළිකුල්වාදියෙක් කියලා එහෙම කිව්වට කමක් නෑ. මම කාය දුෂ්චරිතය පිළිකුල් විදියට සළකන කෙනෙක්. කයෙන් වැරදි කරන එක, වචනයෙන් වැරදි කරන එක, මනසින් වැරදි කරන එක, නොයෙක් පාපී වූ අකුසල් දහම් කිරීම ගැන මං පිළිකුල් කරනවා, පිළිකුල් සේ සළකනවා. ශ්‍රාවකයො ඒ තුළ හික්මවනවා. ඉතින් ඒ ක්‍රමයට නම් මං පිළිකුල්වාදියෙක් කියලා කිව්වට කමක් නෑ. සීහ, යම් ක්‍රමයකින් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ වේනයිකයෙක්, කියන්නෙ නැසීම පිණිස දහම් දේශනා කරනවා කියලා කිව්වොත් ඒකෙත් වරදක් නෑ. මොකක්ද ඒ ක්‍රමය, මම ද්වේෂය නැසීම පිණිස, මෝහය නැසීම පිණිස, රාගය නැසීම පිණිස දහම් දේශනා කරනවා. නොයෙක් පාපී වූ අකුසල් දහම් ප්‍රහාණය කිරීම පිණිස දහම් දේශනා කරනවා, නැසීම පිණිස. ඒ අර්ථයෙන් නම් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ වේනෙයිකයි කියලා කිව්වට කමක් නෑ. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සීහ යම්කිසි කෙනෙක් කියනවා නම් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ තපස්සී කියලා තපස් රකින කෙනෙක් කියලා, කෙලෙස් තවන කෙනෙක් කියලා ඒක කිව්වට කමක් නෑ, මොකක්ද මම කාය දුෂ්චරිතය, වචීදුෂ්චරිතය, මනෝදුෂ්චරිතය ආදී පාපී අකුසල ධර්මයන් තව තවා ඉන්න එක ගැන දහම් දේශනා කරනවා, ඒක තමයි මගේ තපස. මුලින්ම සිඳලා මේ අකුසල් දහම් කරටිය සුන් තල් ගසක් මෙන් කරලා අභාවයට පත් කරලා යලි කිසිදා උපදින්නැති තත්ත්වයට මං පත් කරනවා ඒක තමයි මගේ තපස. සීහ තථාගතයන් වහන්සේට ඔය කාරණාවෙන් නම් කිව්වට කමක් නෑ තපස්සී

කියලා. ඉතින් භාග්‍යවතුන් වහන්සේ අකුසල් දහම් තවලා තවලා අකුසල් දහම් ප්‍රහාණය කරලා මුලින්ම සිඳලා කරටිය සුන් තල් ගසක් වගේ කරලා අභායට පත් කරලා යළි කිසිදා අකුසල් හටගන්නැති තත්ත්වයට පත් කරලා තියෙන්නෙ. සීහ මනාකොට කියනවා නම් තපස්සී කියලා බුදුරජාණන් වහන්සේට එය ගැලපෙනවා. සීහ යම් ක්‍රමයකින් කියනවා නම් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අප්පගබ්භයෙක්ය කියලා ඒ කියන්නෙ මව්කුස විනාශ කරන කෙනෙක්, දරුවො හටගන්න  දෙන්නැති කෙනෙක් කියලා කවුරුහරි කිව්වොත් ගර්භයෙන් බැහැර කිරීම පිණිස දහම් දේශනා කරනවා කියලා ඒක හරි. මොකක්ද ඒ ක්‍රමය, සීහ යමෙකුට නැවත මව්කුස නිදන පුනර්භයක් පිණිස උපතක් හැදෙනවාද, ඒ උපත ප්‍රහාණය කිරීම පිණිස, මුලින්ම සිඳීම පිණිස කරටිය සුන් තල් ගසක් මෙන් කරලා අභාවයට පත් කරලා, යළි කිසිදා නූපදින ස්වභාවයක් ඇත්නම් මම ඔහුට අපගබ්භ යැයි කියමි. ආයෙ මව්කුසකට යන්නැත්නම් එයාට අපගබ්භ කියලා කියන්නෙ. ඉතින් සීහ මම ඒ කෙලෙස් නසලා මං ආයෙ අම්මා කෙනෙක්ගේ බඩට යන්නැති කෙනෙක්. ඒ නිසා මට අපගබ්භ කියලා කිව්වට කමක් නෑ. සීහ යම්කිසි කෙනෙක් කිව්වොත් ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ අස්සාසයෙක්ය කියලා අස්වැසීම පිණිස දහම් දේශනා කරනවා කියලා කිව්වට කමක් නෑ. මම වනාහි පරම අස්වැසිල්ලෙන් අස්වැසී සිටින්නෙමි. මම සන්සිඳිලා පිහිට පිළිසරණ හදාගෙන ඉන්න කෙනෙක්. ඒ නිසා මට එහෙම කිව්වට කමක් නෑ කියලා අර ඒ අයගේ තියෙන මතවාද පිළිබඳව බුදුරජාණන් වහන්සේ බුදුරජාණන් වහන්සේගෙ පැත්තෙන් ධර්මවිනයෙන් කරුණු දැක්වූවා. මෙහෙම දක්වනකොට සීහ සේනාධිපතිට දැන් තමයි ඇහැ ඇරුණෙ. අභික්කන්තං භන්තෙ අභික්කන්තං භන්තෙ. ස්වාමීනී සුන්දරයි, ස්වාමීනී සුන්දරයි, යටට හැරවිච්ච දෙයක් උඩට හැරෙව්වා වගේ. ඊළඟට මං මුලාවූ කෙනෙකුට පාර පෙන්නුවා වගේ. වැහිලා තිබ්බ දෙයක් ඇරලා පෙන්නුවා වගේ, ඇස් ඇත්තන්ට රූප බලන්න අන්ධකාරෙ තෙල් පහනක් දැල්වූවා වගේ. දැන් ඔන්න ඒ උපමාව හරි ලස්සනයි, ඇස් ඇත්තො, චක්ඛුමන්තො රූපං දක්ඛින්තීති අන්ධකාරෙ තේලපජ්ජොතං ධාරෙය්‍ය, අඳුරෙ තෙල් පහනක් දල්වනවා ඇස් ඇත්තන්ට රූප දකින්න. එහෙනම් මේ බුදුරජාණන් වහන්සේගේ ධර්මය තමයි දල්වන තෙල් පහන. එහෙනම් ඒ ධර්මයෙන් ලෝකය, පහනේ එළියෙන් බලන්න ලෝකය දිහා මොකක්ද තියෙන්න ඕන, තමන්ට ඇහැක් තියෙන්න ඕන. තමන්ට සංසාරයේ පූරිත පින තියෙන්නෙ ඕන. යොනිසොමනසිකාරය තියෙන්න ඕන. ශ්‍රද්ධාවට පත්වීම

තියෙන්න ඕන. තමන්ගේ ඇස් දෙක තිබ්බොත් තමයි දහමෙන් ලෝකය බලන්න පුලුවන්නෙ. බුදු බණ කොච්චර කිව්වත් මුළු දැන් මේ සූත්‍ර පිටකය, විනය පිටක, අභිධර්ම පිටකය, ආදී ත්‍රිපිටක, අටුවා ටීකා ටිප්පනි ආදී නොයෙක් වූ මේ ධර්මයන් අද කාලෙ දක්වා මේ දක්වා තියෙනවානෙ ඉතින්. දැන් මේ අවුරුදු විස්සක් විසි එකක් දැන් මහමෙව්නාව ආරම්භ කරලා අවුරුදු විසි එක ගෙවුනා. එතකොට අවුරුදු විසි එකකට කලින් මේ ධර්මයක්, චතුරාර්ය සත්‍යයක්, බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා එකක්, ධර්මය සරණ යනවා කියලා එකක්, සංඝරත්නය සරණ යනවා කියලා එකක්, කතා වුන් නැනෙ. තුණුරුවන් සරණ යනවා කියලා. ඔක්කොම අපි පන්සිල් ගන්න කලින් නමස්කාරය කියනවා වගේ කුටු කුටු ගාන එකක් තමයි බුද්ධං සරණං ගච්ඡාමි ධම්මං සරණං ගච්ඡාමි කියන්නෙ. එහෙමනෙ මිනිස්සු හිතුවෙ. සියලු දෙනා මෛත්‍රී බුදුන් දැක නිවන් දැකපං කිය කියානෙ හැම ගෙයක් ගෙයක් ගානෙම කියවුනේ. දැන් ඒවා ඇහෙන්නවත් නෑ. දැන්නෙ හැම රේඩියො එකකම ටීවී එකකම බණක් කියනකොට චතුරාර්ය සත්‍යය අවබෝධ වේවා කියලා දැන්නෙ කියන්නෙ. එතකොට ඒ ධර්මය තිබ්බානෙ. ධර්මය තියෙද්දින් මිනිස්සු කොහෙද ගියෙ. යාන්තම් ලොකු ස්වාමීන් වහන්සේ පහළ වෙලා ධර්මය කියනකොට ඔන්න පිරිසක් අතලොස්සක් මේ ශාසනයේ පිහිට ගත්තා. අතලොස්ස සමස්ථ ලෝකයා දිහා බලනකොට. ලංකාවත් එක්ක සිංහල ජාතියත් එක්ක බලනකොට මං හිතනවා ලොකු පිරිසක් මේ ධර්මය අහන්න ඇති කියලා. ඉතින් ඒ නිසා අපිට මිනිස්සු ධර්මයට එන් නෑ කියන එක අපි ලොකු ප්‍රශ්නයක් කරගන්න යුතු දෙයක් නෙවෙයි. මොකද මේ ධර්මය කියන්නෙ පහනක්. ඒ පහන දැල්වූවාට පස්සෙ අඳුරේ ඉන්න අයට එළිය වැටෙනවා. හැබැයි ඒ අයට පහනක් දැල්වීමම ප්‍රමාණවත් නෑ. පහනක් දැල්වීම ප්‍රමාණවත් නෑ, ඇස් දෙක තියෙන්න ඕන තමන්ට, යෝනිසොමනසිකාරය. පතන්න ඕන වෙන්නෙ යොනිසොමනසිකාරය. ධර්මය කියන එක ශ්‍රී සම්බුදු නුවණින් ඥාණය දල්වා ලොවම එළිය කල බුදුරජාණන් වහන්සේට වඳිනවා කියලා අපි වඳිනවානෙ. බුදුරජාණන් වහන්සේගේ දහම් ප්‍රඥාවෙන් ඒ ශ්‍රී සද්ධර්මය ලෝකෙට දේශනා කිරීම තමයි මේ ලෝකෙට දැල්වූ පහන. එතකොට තමන්ට ඇහැ තියෙන්නෙ ඕන ලෝකෙ දිහා බලන්න. ඒ නිසා මේ අපි කියන බණ මේ තථාගතයන් වහන්සේ දේශනා කරපු මේ ශ්‍රී සද්ධර්මය හැම තැනකම පොත් වලින් ධර්ම දේශනා වලින් හැමතැනම පැතිරුණා කියන පමණින් මිනිස්සුන්ට පිහිට තියෙනවා කියලා එකක් නෑ. ඒ ධර්මය නැමැති ආලෝකය

යද්දි ඒ බණ අහන මනුස්සයාට පොත කියවන මනුස්සයාට නුවණ නැමැති ඇහැ තියෙන්න ඕන. දැන් බාහිර කෙනෙකුට පහන දල්වන්න පුලුවන්. ඇස් ගෙඩි දෙක ගෙනල්ලා දාන්නබෑනෙ. ඒක තමන්ට උපතින් ඇහැක් කියලා එකක් තියෙන්න ඕන. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේට කෙනෙක් පහදිනවා නම්, ධර්මයට පහදිනවා නම්, සංඝරත්නයට පහදිනවා නම් මේ ධර්මයට කැමැති නම්, ආස නම්, අන්න එයාට නම් ඇස් දෙක තියෙනවා. එයාට ඒ බණ වලින් ලෝකය දිහා බලන්න පුලුවන්. එයාට ධර්මය තුලින් ලෝකය දිහා බලන්න පුලුවන්. ඉතින් බලන්න මේ සීහ සෙන්පතිගේ උපමා. අනේ මට නොයෙක් ආකාරයෙන් බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කලා. මම බුදුරජාණන් වහන්සේ සරණ යමි, ශ්‍රී සද්ධර්මය සරණ යමි, ආර්ය මහා සංඝරත්නය සරණ යමි. දිවිතිබෙන තුරා මගේ බුදුරජාණන් වහන්සේ මම බුදුරජාණන් වහන්සේ සරණ ගිය ශ්‍රාවකයෙක් ලෙස දරාගන්නා සේක්වා. සීහසෙන්පති එසේ කිව්වා. සිරිපා කමල ළඟ වැඳවැටුනා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා සීහ කලබල වෙන්න එපා. සීහ සිතාමතා කටයුතු කරන්න, ඔබ බොහෝ ප්‍රසිද්ධ කෙනෙක්. ඔබ වාගේ ප්‍රසිද්ධ කෙනෙක් ඉක්මණට මේ වාගේ කලබල වෙලා තීරණ ගන්න එපා. සතුටු වුනා ස්වාමීනී ඔබවහන්සේගේ වචනයට. භාග්‍යවතුන් වහන්සේගේ වචනයට මට ඔබවහන්සේ ගැන ලොකු ඇල්මක් ඇතිවුනා. ප්‍රේමයක් ඇතිවුනා. ඔබවහන්සේ මට කියනවා සීහ කලබල වෙන්න එපා. ඔබවාගේ ප්‍රසිද්ධ කෙනෙක් තීරණ ගන්නකොට හිතාබලන්න කියලා භාග්‍යවතුන් වහන්සේ මට කියා හිටියා. ස්වාමීනී වෙන ආගමික නායකයෙකුට මං වාගේ ශ්‍රාවකයෙක් හම්බවුනොත් හන්දියක් හන්දියක් ගානෙ බැනර් පෝස්ටර් ගහගෙන යයි, සීහ සෙන්පතියා අපගේ ශ්‍රාවකයෙක් වුනා කියලා. ඒත් බුදුරජාණන් වහන්සේ මාහට කියා හිටිනවා, සීහ කල්පනා කරන්න, කලබල වෙන්නැතිව තීරණ ගන්න ඔබ ප්‍රසිද්ධ කෙනෙක් කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා හරි, එහෙනම් සීහ ඔබගේ නිවසින් ගොඩාක් කාලයක් මේ නිගණ්ඨයො දන් පැන් බුක්ති වින්දා. පැන් පොකුණක් වගේ ඔබගේ ගෙදර තිබ්බෙ. සීහ ඔබ කියන්න ඕන, ඔබ හිතට ගන්න ඕන, නිගණ්ඨයන්ට දානෙ දෙනවා කියලා. දානෙ නොදී ඉන්න එපා. ස්වාමීනී පැහැදුනා, ස්වාමීනී පැහැදුනා, මගේ හිතට හරි සතුටුයි. මං අහලා තිබ්බෙ ස්වාමීනී භාග්‍යවතුන් වහන්සේ කියන්නෙ මටම දානෙ දීපල්ලා, මගේ ශ්‍රාවකයන්ටම දානෙ දීපල්ලා, අනිත් එවුන්ට දෙන්න එපා කියලා. ඒත් බුදුරජාණන් වහන්සේ මට කියාහිටිනවා, ඔය නිගණ්ඨයන්ට ඔබගේ නිවස පැන් තොටක් වගේ තිබ්බෙ,

දානෙ නොදී ඉන්න එපා කියලා. මට පුදුම සහගතයි, මං බුදුරජාණන් වහන්සේට පැහැදෙනවා. තුන්වෙනි වතාවටත් බුදුන්, දහම්, සඟුන් සරණ යනවා, හැබැයි නිගණ්ඨයන්ට දන් දෙනවද නැද්ද කියලා ස්වාමීනී මම පෞද්ගලිකවම තීරණය කරන්නම් කිව්වා. ඒ කියන්නෙ මෙහෙමයි ඉතින්, සරුසාර කුඹුරක් හම්බවෙච්චි කෙනෙකුට වතුර නැති තැනක කිසිම සරුවක් නැති කුඹුරක් වපුරනවාද නැද්ද කියන එක ඒ මනුස්සයා දහ වතාවක් කල්පනා කරන්න ඕන, මොකද සරුසාර කුඹුරක් හම්බෙලා තියෙන්නෙ. ඊටපස්සෙ මේ විදියට බුදුරජාණන් වහන්සේ ගැන ගොඩාක් පැහැදීමෙන් කතා කරනකොට භාග්‍යවතුන් වහන්සේ අනුපුබ්බ කතාව කලා, සීහසෙන්පතිට. බුදුරජාණන් වහන්සේ සීහසෙන්පතිට අනුපිළිවෙල කතාව කලා. ඒ තමයි දාන කතා, සීල කතා, සග්ග කතා, කාමානං ආදීනවං, ඕකාරං සංකිලේසං, නෙක්ඛම්මෙ ආනිසංසො, කාමයන්ගේ ආදීනව, කෙලෙසුන්ගේ ලාමක බව, එයින් නික්මීමේ ආනිසංස එහෙම දේශනා කරනකොට සීහසෙන්පතිගේ හිත ඉතාමත් මෘදු වුනා. නීවරණ රහිත වුනා. ඔදවැඩී ගිය සිතක් ඇතිවුනා. පහන් සිතක් ඇතිවුනා. බුදුරජාණන් වහන්සේ ආන්න ඒ වෙලාවේ දුක්ඛ ආර්ය සත්‍යය, දුක්ඛ සමුදයාර්ය සත්‍යය, දුක්ඛ නිරෝධාර්ය සත්‍යය, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදාර්ය සත්‍යය දේශනා කලා. චතුරාර්ය සත්‍යය දේශනා කරනකොට පිරිසිදු වස්ත්‍රයකට සායම් කාවදිනවා වගේ ඒ දහම හිතට කිදා බැස්සා. මේ ලෝකයේ සනාතන සත්‍යයක් තියෙනවා නම් ඒ තමයි හේතුඵල දහම. යං කිඤ්චි සමුදය ධම්මං සබ්බන්තං නිරෝධ ධම්මං. යමක් හේතූන් නිසා හටගන්නවාද හේතු නැතිවීමෙන් එය නැතිවෙලා යනවා කියලා දහම් ඇස පහළ වුනා. අන්න සෝතාපන්න ඇසට කියන නම. දහම් ඇස. හේතුඵල දහම අවබෝධ වුනා. චතුරාර්ය සත්‍යය අහද්දි. ඉතින් මේ විදියට ධර්මය දැකලා සෝවාන් ඵලයට පත්වෙලා ධර්මය දැක්ක කෙනෙක්, ධර්මයේ බැසගත්ත කෙනෙක්, සැකය තරණය කරපු කෙනෙක් විදියට විශාරද බවට පත්වෙලා ශාස්තෘ ශාසනයේ උපකාර රහිත වූ, ඒ කියන්නෙ කවුරුත් හිටියේ නැතත් ජීවිත හතක් ඇතුලත් අර්හත්වයට පත්වෙනවා. ඇයි සෝවාන් වෙලානෙ ඉන්නෙ. ආන්න ඒ විදියට පත්වෙලා බුදුරජාණන් වහන්සේ ළඟ සන්තෝෂෙන් වැඳලා ඉල්ලා හිටිනවා, ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස, හෙට අපගේ ගෙදර දානෙට වැඩම කරන සේක්වා. බුදුරජාණන් වහන්සේ නිහඬ වුනා. ඊටපස්සෙ සීහසෙන්පතිතුමා ගෙදර ගිහිල්ලා, මාළිගාවට ගිහිල්ලා තව පුරුෂයෙකුට කතා කරලා කිව්වා කඩෙන් විකුණන්න තියෙන මස් ටිකක් අරගෙන එන්න කියලා.

අන්න අගේ ඇති කතාව. දැන් මෙතුමා සෝවාන් වුනා. සෝවාන් වෙච්චි දවසේම ගෙදර වැඩකාර කොල්ලට කිව්වා, විකුණන තැනින් මස් අරන් වරෙල්ලා කියලා. ඊටපස්සෙ එහෙමයි කියලා අර ගෙදර කොල්ලා ගිහිල්ලා විකුණන තැනකින් විශාල මස් තොගයක් අරගෙන ආවා. ඊටපස්සෙ දැන් සිය ගාණක් සංඝයාට දානෙ උයන්න එපැයි. මස් ව්‍යංජනයක් සහිතව හොඳට දානෙ ඉව්වා. භාග්‍යවතුන් වහන්සේ ගෙදර දානෙට වැඩියා. ඊටපස්සෙ නිගණ්ඨයාට ආරංචි වුනා. සීහසෙන්පති බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයෙක් වුනා කියලා. අද සීහ සෙන්පතිගේ ගෙදර දානයක්ය කියලා. දානෙට මස් ඉව්වාය කියලා. කවුරුහරි ඔත්තුව දීලා නිගණ්ඨට. දැන් සීහ සෙන්පතිතුමා තෙරුවන් සරණ ගියාට ඔය ගෙදර අතුගාන එකෙක් හරි ඉන්නවා කේලමක් ගිහිල්ලා කියන. ඒකා ගිහිල්ලා නිගන්ඨට කිව්වා. මෙහෙමයි දානෙ දෙනවා මස් උයනවා කියලා. ඊටපස්සෙ නිගණ්ඨයො මොකද කලේ, ඒ සමයෙහි බොහෝ නිගණ්ඨයො විශාලා මහනුවර පාරක් පාරක් ගානෙ, හන්දියක් හන්දියක් ගානෙ දෙඅත් බැඳ ඔළුවේ අත්දෙක බැඳගෙන, අද සීහ සේනාධිපතියා විසින් මහා සිරුරැති සිව්පාවෙක් මරා, සිව්පාවෙක් මරලා සීහ සෙන්පති, ශ්‍රමණ ගෞතමයන්ට බත් දෙනවා. ශ්‍රමණ ගෞතමයොත් තමන් උදෙසා මහා සතෙක් මරලා මස් උයලා දෙනවා කියලා දැනගෙනම හොඳට දැන් වළඳන්න ලැහැස්තිය. අන්න මස් එක්ක බත් කනවෝ කියලා මේ නිගණ්ඨයා පෙළපාලියක් ගියා, හන්දියක් හන්දියක් ගානෙ. ඊටපස්සෙ මෙයින් ඉතුරුවෙච්චි කට්ටිය අදකාලෙත් ඉන්නවාදෝ කියලා හිතෙනවා. ඊටපස්සෙ සීහසෙන්පතිගේ එක්තරා පුරුෂයෙක් ඇවිල්ලා සීහසෙන්පතිට කිව්වා ස්වාමීනී දන්නවද අන්න මහා පෙළපාලියක් කිව්වා, ගෝරනාඩුවක් කිව්වා. කට්ටිය එකතුවෙලා කෑගගහ පෙළපාලි යනවා සීහසෙන්පති මහා සතෙක් මරලා ශ්‍රමණ භවත් ගෞතමයන්ට බත් දෙනවාය, ශ්‍රමණ භවත් ගෞතමයොත් කිසි වගක් නැතිව තමා උදෙසා මරපු සත්තු ඒ මස් මාංශ කනවාය කියලා. ඊටපස්සෙ මස් එක්ක බත් කනවෝ කියලා කෑගගහ යනවා. දැන් හොඳට යන්න ඇති පෙළපාලි. කොටසක් කියනවා ඇති මස් එක්ක කියලා. අනිත් අය කියනවා ඇති බත් කනවෝ කියලා. නිගණ්ඨයන්ගේ පෙළපාලි. ඊටපස්සෙ සීහසෙන්පති කියනවා අර පුරුෂයාට, ආර්ය, ඒ කියන්නෙ පින්වත, කමක් නෑ. ඒ ආයුෂ්මත්වරු ඔය නිගණ්ඨයො බොහෝ කලක් තිස්සේ බුදුරජාණන් වහන්සේට බනිනවා. බොහෝ කලක් තිස්සේ ධර්මයට බනිනවා. බොහෝ කලක් තිස්සේ සංඝයාට බනිනවා. ඒ නිසා බනින්න ඕන වුනාට පස්සෙ උන් මොකාක් හරි එකක් හොයනවා. ඒ නිසා ඔය

අසත්‍ය වූත්, තුච්ඡ වූත්, මුසා වූත්, අභූත වූත්, ඔය චෝදනා නිගණ්ඨයන්ගේ කටවල් වලින් අවසන් වෙන් නෑ. උන්ගේ කටවල් වලින් වචන පිටවෙන්නේ යම්තාක්ද මැරෙනකල්ම පිටවෙනවාද ඒ තාක් උන් බනිනවා. ඒ නිසා ඕවා ගණන් ගන්න එපා. නමුත් අපි අපේ ජීවිතය ගියත් දැන දැන සතෙක් මරන් නෑ කිව්වා. දැන් විකුණන්න තිබ්බ මස් ගෙනල්ලා කනවා කියන එකයි, ප්‍රාණඝාතයෙන් වැළකී ඉන්නවා කියන එකෙයි වෙනස බලන්නකො. දැන් මේ සීහ සෙන්පති තුමා දිවිහිමියෙන් ප්‍රාණඝාතය කරන්නැති ආර්ය කාන්ත සීලයේ මනාව පිහිටි සෝතාපන්න ශ්‍රාවකයෙක්. විකුණන්න තිබ්බ මස් දානය සඳහා අරගෙන ආවෙ. ඊටපස්සෙ හැබැයි ඇදකුද හොයන එකා, කොහෙන්හරි හොයනවා. මට ළඟදින් උපමාවක් අහන්න ලැබුනා, ඔන්න අපි කියන්නකො ලස්සනට කොණ්ඩෙ සරසලා, අපි කියමු රාජ කුමාරිකාවක් හරි, සිටු කුමාරිකාවක් හරි, ඉන්නවා ලස්සනට කොණ්ඩෙ සරසලා. සුවඳ කරලා. ඊළඟට කොණ්ඩෙ එක එක හැඩ දාලා ගොතලා. උඩට බැඳලා, ඊටපස්සෙ ලස්සනට මල් ගහලා. රන් කටු ගහලා, හරී ලස්සන කුමාරි. මල් කළඹකින් සිරස වසා තියෙනවා. ඔය මල් කුමාරි ළඟට වඳුරෙක් ආවොත්, එහෙම නැත්නම් වැදිරියක් ආවොත් අච්චර ලස්සන කොණ්ඩයක් තියෙද්දි ඔය වඳුරා හරි වැදිරි හරි අර කොණ්ඩෙට අත දාලා උකුණෙක් ලේඩිත්තෙක් හොයනවාමයි. ඒකට කොණ්ඩේ ලස්සන වැඩක් නැත. ඒකාට ඒ සුන්දරත්වය පෙනෙන්නේ නැත. උකුණො හොයන එකමයි ඔහුගේ රාජකාරිය. සිතන්න අද කාලෙත් නැද්ද ඒ වාගේ රාජකාරී ඇති වඳුරෝ, වැදිරියෝ. ලස්සන සොඳුරු දේවල් කොතරම් තිබ්බත් අතගාලා කොහෙහරි උකුණෙක් ලේඩිත්තෙක් මැදලා ගන්න. ඒ නිසා පුදුම සහගතයි මේ සමාජය. මෙච්චර සීහසෙන්පති තුමා ආර්ය ශ්‍රාවකයෙක් බවට පත්වෙලා, බුද්ධ ප්‍රමුඛ මහා සංඝරත්නයට දන්පැන් පූජා කරද්දි මස් කතාවක් ඇදලා අරන් ලේඩිත්තෙක් ඉදිරියට ගත්ත වඳුරා වගේ නිගණ්ඨයො කරපු අපහාසය දෙස බලන්න. එදා බුදුරජාණන් වහන්සේ ප්‍රණීත වූ ඒ දන් පැන් වළඳලා - දැන් මේ තියෙන්නෙ දානෙ වැළඳුවා කියලා. ශ්‍රාවක සංඝයා සාරිපුත්ත මොග්ගල්ලාන ආදී උත්තමයො දන් පැන් වළඳලා තියෙන්නෙ මේ. ඊටපස්සෙ දන් පැන් වළඳලා දානෙන් පස්සෙ සීහසේනාධිපතිට ධර්මය දේශනා කලා. ධර්මය දේශනා කරලා සතුටු කරවලා භාග්‍යවතුන් වහන්සේ වැඩම කලා. ඔය තමයි සීහසේනාධිපති සූත්‍රය. එතකොට බලන්න. මෙතන කාරණා ගොඩක් තියෙනවා කියන්න. එකක් තමයි මේ මස්මාංශ කතාව. තමන්ගේ තිසරණයයි මේ අහක යන කුණු මසකුයි කවලම් කරගන්න නම් එපා. සමහරු ඉන්නවා

අපිටම ඇවිල්ලා කියනවා අපි ඔබවහන්සේගේ බණ හොඳට අහනවා, මස් කෑල්ලක්වත්, උම්බලකඩ කෑල්ලක් වත් කන්නෙ නෑ, උම්බලකඩ තියෙන කඬේක මිදුලෙන් වත් යන් නෑ කියලා. එතකොට මං කල්පනා කරනවා එවැනි වූ බණක් අපි කවදා නම් කිව්වාද. එවැනි වූ බණක් කවදා නම් අපි ඇහුවාද, එතකොට මොනවා අහනවාද. අපි මොනවද කියන්නෙ, මිනිස්සුන්ට මොනවද ඇහෙන්නෙ, කියන්නෙ එකක් ඇහෙන්නෙ එකක්. ඊටපස්සෙ අපි කියමුකො අපි කියපු බණක කොතනකවත් උම්බලකඩ කතාවක් තිබ්බෙ නෑ. ඔන්න ඒවා ගැන එතකොට ඒ උම්බලකඩ, මස් මාංශ කතාවක් නැතිව කියන බණක් අහලා හොඳට පැහැදිලා එයා ඉන්නවා තමන්ගේ නිර්මාංශ බව එහෙම නැත්නම් මස් මාංශ උම්බලකඩ කන්නැති බව ගැන හිත හිතා ඉන්නවා, මං දැන් හොඳට බණ අහන කෙනෙක්. මං මස්මාංශ කන්නෑ කියලා. ඒ එක්කම මේ වාගේ බණක්වත් ඇහුනොත් එහෙම වැඩක් නෑ හාමුදුරුවො. ඔන්න දැන් මස්මාංශ ගැන කිව්වා. හාමුදුරුවො නොමඟ ගියා. හාමුදුරුවො මිත්‍යාදෘෂ්ටියට පත්වුනා කියලා අපහදිනවා. එතකොට එයා පැහැදිලා තියෙන්නෙ ධර්මයට නෙවෙයි. එතකොට එයා මස් මාංශ නොකා, ඒකම සීල ව්‍රත දෘෂ්ටියක් විදියට ග්‍රහණය කරගෙන යම්කිසි කෙනෙක් මස්මාංශ කන්නැත්නම් එවැනි වූ සත්ත්වයන් අතර උපදිනවා. මස්මාංශ කන්නැති සත්ත්වයෝ ඉන්නවානෙ. එතකොට දෘෂ්ටි. සමහර අයට තියෙනවා මස්මාංශ ඇලජික්. එතකොට එයා තමන්ට ඇලජික් ආහාරයක් විදියට දරාගෙන ඒක නොකා නොබී ඉන්නවා.  සමහර අයට අප්පිරියයි. එතකොට එයාට මස්මාංශ අප්පිරියයි. ඉතින් එයා ඒ අප්පිරියාව මුල් කරගෙන මස් මාංශ කන්නෑ ඒක හොඳයි. සමහර අය අද කාලෙ තියෙන මස් මාංශ වල තියෙන විස සහිත බව, දැන් කුකුළෙක් ගත්තොත් බ්‍රොයිලර් කුකුළොනෙ ඉන්නෙ. එතකොට ඒවා කෑවට පස්සෙ මිනිස්සුන්ට විසයිනෙ. එතකොට ගන්නෙ නෑ ඒ මස්මාංශ, ඇඟට විස නිසා. අද කාලෙ කොච්චර විස සහිත මස් කාලා ලෙඩදුක් කරදර කම්කටොළු මිනිස්සුන්ට හැදෙනවාද. ඒ වගේම ළඟකදින් කොහෙ හරි තැනක කුඩු කරපු උම්බලකඩ වාගයක් අහුවෙලා තියෙනවා, පස්සේ චෙක් කරලා බැලින්නම්, බලු මස් වේලලා කුඩු කරලා. ඉතින් ඕවගේ දේවල් අහනකොට දකිනකොට චී කියලා හිතෙනවා. එතකොට කන්නෙ නෑ, ඒක දෘෂ්ටියක් නෙවෙයි. ඒක නුවණින් සැලකීමක්. කොච්චර හොඳයිද එහෙම ඉන්න එක. මේ කියන්නෙ එහෙම නෙවෙයි, තව කවුරුහරි උම්බලකට කෑල්ලක් කනකොට බනිනවා, දොස් කියනවා. අම්මෝ මට මතකයි අපි ගෙවල් වල ඉන්න කාලෙත් මට මතකයි සමහර අය හිටියා, ඔය

මස්මාංශ කන්නැති අය. ඉතින් ඒ වාගේ අය කඩපිලට ආවට පස්සෙ කඩේ එක්කෙනෙක් එයාට ඇහෙන විදියට කියනවා, ආරංචිද, ආන්න අහවලා මද්දක් ගහලා උෟරෝ අල්ලලා. ඊයෙ රෑ පුරාම කපලා ගමටම බෙදලානෙ කියනවා. දැන් අර නිර්මාංශ වෙච්චි එක්කෙනා කඩේට ආපු වෙලාවෙ. ඒ මනුස්සයා බඩු ගන්න එක නතර කරලා ආ හැබෑද උන්ට නම් හොඳක් වෙන්න එපා. හත්මුතු පරම්පරාවටම හෙණ ගහන්න ඕන කියලා පැයක් බනිනවා. ඉතින් ඕක අහගන්න තමයි අර කොල්ලො අවුස්සන්නෙ. හරියට කවටකම් කරනවා. ඉතින් ඒ කාලෙ අපි ඒවට එකතු වුන් නෑ, නමුත් මට මතකයි එහෙම සිද්ධි. එතකොට ගමටම දෙස් දෙවොල් තියලා පව් රැස් කරගන්නවා. ඒ නිසා තම තමන්ගේ නිර්මාංශ බව තම තමන්ට මුහු කරගන්න. ඊළඟට අපේ ජීවිතේ අවසන් වෙනකොට ලෙඩ, ජාති, ජරා මරණ සෝක පරිදේව දුක්ඛ දෝමනස්සයන්ගෙන් අසරණ වීගෙන යනකොට මේ අහක යන කුණු මාංසයෙක් නම් කුමක් කරන්නද. අපේ ජීවිතේ ජාති ජරා මරණ සෝක පරිදේවයන්ගෙන් පීඩා විඳිනකොට අපිට පිහිට තියෙන්නේ බුදුරජාණන් වහන්සේගේ සරණ. ශ්‍රී සද්ධර්මයේ සරණ. ආර්ය මහා සංඝරත්නයේ සරණ. ඒ උතුම් සරණ යන්න. මස් කෑල්ලක එල්ලෙන්න එපා. උම්බලකඩ කෑල්ලක එල්ලෙන්න එපා. මස් මාංශ කරවල කනවද කියන තැන එල්ලෙන්න එපා. ඉතින් ඒ නිසා කල්පනා කරන්න. සමහර අය ගෙදර හොඳට කනවා බොනවා, බුද්ධ පූජාව තියනකොට කරවල කෑල්ලක්වත් උයන්න එපා. කිරිහොදියි සම්බෝලයි තිබ්බම ඇති. තමන් හොඳට කනවා, බුදුරජාණන් වහන්සේට බුද්ධ පූජාව තියනකොට කිරිහොදි ටිකක් තියනවා. දෙන විදියට ලැබෙයි. ඊටපස්සෙ දැන් අපි කියමුකො පන්සලක තියෙනවා, හාමුදුරුවො මස් මාංශ කන්නෑ, ඒක හාමුදුරුවන්ගේ දෙයක්. ගෙනියන හැමදෙයක්ම හාමුදුරුවො වළඳන්න ඕන කියලා එක්ක නෑ, හාමුදුරුවො මස් මාංශ කන්නැත්නම් උම්බලකඩ කන්නැත්නම් හාමුදුරුවො ඒ මස්මාංශ අයින් කරලා තියෙන දෙයෙක් එක්ක වළඳනවා නමුත් දායකයො වත් හාමුදුරුවො වත් දෘෂ්ටියකට පැමිණිය යුතු නෑ මේ නිවන් මාර්ගයයි කියලා. වැරදි අපි හදාගන්න ඕන. අපිට පින්වතුනි ඔබ නිතර නිතර වෙහෙසෙන්න මේ කන බොන දේවල් මේ කටට ඔබන ඒවා ගැනනෙවෙයි, මහන්සි වෙන්න මේ මනසට යවන ඒවා ගැන. බුදුරජාණන් වහන්සේගේ සරණේ එල්ලෙන්න. ධර්මයේ සරණේ එල්ලෙන්න. සංඝරත්නයේ සරණේ එල්ලෙන්න. මුළු ජීවිත කාලෙම මස් මාංශ නොකා ඉන්නවා. බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ නවය දන්නෑ. මුළු ජීවිතේම මස් මාංශ

නොකා ඉන්නවා, ධර්මයේ ගුණ දන් නෑ. රහතන් වහන්සේලාගේ ගුණ දන්නෑ, ආර්යයන් වහන්සේලාට ගරහනවා. සත්පුරුෂයන්ට ගරහනවා. කෑමකින් මනුස්සයෙක් පිරිසිදු කරයිද. ඉතින් ඒ නිසා තිසරණයේම එල්ලෙන්න. මස් මාංශ කන එක හෝ මස් මාංශ නොකන එක පෞද්ගලික දෙයක් කරගන්න. හැබැයි කවදාවත් ජීවිතයේ දැන දැන නම් ප්‍රාණඝාතයක් කරන්න එපා. දැන දැන ප්‍රාණඝාතයක් කරන්න එපා. ඉතින් මේ සූත්‍ර දේශනාවේ තිබ්බෙ බුදුරජාණන් වහන්සේ ළඟට කෙනෙක් යනකොට ඔහුට තියෙන අභියෝග. තමන්ගේ ශ්‍රාවකත්වයෙ ඉඳලා එයා අනිත් පැත්තට හැරුණට පස්සෙ කරන කෙණෙහෙලිකම්. ඔය වගේම තියෙනවා පින්වත්නි, අර සාමාන්‍යයෙන් දේවාල, භූත ඔය කේස් වලට නිතර නිතර ඒ වගේ රිංගපු අය බණ අහලා තුණුරුවන් යන්න උත්සාහ කරනකොට එකපාරටම ඒකට අවස්ථාව දෙන් නෑ, දැන් මේ බලන්න. පිරිසිදුව දහමක් ඇහෙන තැනකට යන්න දෙන්නෙ නෑ ඒ බලවේග විසින්. මේ හොඳම කතාවක් සීහසේනාධිපතිගේ කතාව. කීගමනක් නිගණ්ඨ වැළැක්වුවාද කියන්න. කොහොමහරි ගියොත් එහෙම ඒ කියන්නෙ කොහොම හරි තිසරණයට ආවොත් එහෙම එයාට ගොඩාක් කරදර ඇතිවෙන විදියට පරිසරය ඇතිවෙනවා. හැදෙන්නේම තමන් කලින් පිහිට ගත්තු තැන්වල බලවේග. ඇයි අපේ අය නැතිවුනා කියලා. ඒ නිසා අද කාලෙ තිසරණයට එන්න නම් ලොකු ආත්ම ශක්තියක් තියෙන්න ඕන. දුක් කම්කටොලු ඉවසාගන්න ඉවසීමක් තියෙන්න ඕන. ජීවිතේ තුණුරුවන්ට පූජා කරන්න ඉවසීමක් තියෙන්න ඕන අද කාලෙ තිසරණයට එනවා නම්. මොකද අපි අපිම මුලින් වරද්දාගෙන. ඉතින් ඒ නිසා පින්වතුනි අපි සරණක් හොයපු තැන තමයි තිසරණයකට යනකොට අපිට එරෙහිව නැගී සිටින්නෙ. සීහසේනාධිපති සරණ හොයාගෙන නිගණ්ඨ ළඟට ගියා. තිසරණයට එනකොට නිගණ්ඨයාම නැගී හිටියානෙ. කල්පනා කරන්න මේවා ගැන. ඒ නිසා බුදුරජාණන් වහන්සේ ඒ කාලෙ හැම අභියෝගයකටම මුහුණ දුන්නා. බුදුරජාණන් වහන්සේ කුඹුරකට ගිහිල්ලා, බුදුරජාණන් වහන්සේ කුඹුර ළඟ පිණ්ඩපාතෙ වඩින ස්වභාවයෙන් හිටගෙන ඉන්නකොට කසීභාරද්වාජ ඇවිල්ලා කිව්වා මේ හොඳට අතපය තියෙන්නෙ, ගොවිතැන් කරන්නකො. බුදුරජාණන් වහන්සේ වදාළා මං ගොවියෙක්. එතකොට කසීභාරද්වාජ කියනවා ගොවියෙක්. ගොවියෙකුට තියෙන ලක්ෂණ තියෙනවා. ඒ කියන්නෙ නගුලක් තියෙන්න ඕන, කුඹුරක් තියෙන්න ඕන. සීසාන්න ඕන, බීජ තියෙන්න ඕන. කීවැල තියෙන්නෙ ඕන. කෝ මොකවත් නෑනෙ. බුදුරජාණන් වහන්සේ වදාළා තියෙනවා. මම කරන්නෙ

ප්‍රඥාවෙන් කුඹුර හාලා සීලය නැමැති වැස්සෙන් කුඹුර තෙමලා, ශ්‍රද්ධාව නැමැති බීජය වපුරලා අමා මහ නිවන නැමැති ඵලය මම භුක්ති විඳිනවා කිව්වා. හරී ලස්සනට කුඹුරු කරන හැටි කියලා දුන්නා. කසීභාරද්වාජට හිතුනා මෙන්න කුඹුර. තමන්ගේ කුඹුර අත්හැරියා. බුදුරජාණන් වහන්සේගේ කුඹුර වපුරන්න ඕන කියලා මහණ වුනා. අර්හත්වයට පත්වුනා. කසීභාරද්වාජද මේ සාසන කෙත වැපිරුවා. ප්‍රඥාවෙන් හැරුවා සීල වැස්සෙන් තෙමුවා. ශ්‍රද්ධා බීජය වැපිරුවා, අමා මහ නිවන අර්හත්වය නැමැති ඵලය ගත්තා. ඒ කෙනාට කියෙනවා. ඒ බුදුරජාණන් වහන්සේගෙන් කුමක්ද කියලා අහනකොට ඒ උත්තරය දෙනවා. බුදුරජාණන් වහන්සේ තව තැනකට යනකොට එම්බා වසලය පැමිණෙන්න එපා. බුදුරජාණන් වහන්සෙ අහනවා වසලයෙක් වෙන කරුණු දන්නවාද, දන්නෑ කියනවා. එහෙනම් පොඩ්ඩක් ඉන්න, වසලයෙක් ගැන කියලා දෙනවා. දණ ගහනවා, ඒ වගේ භාග්‍යවතුන් වහන්සේ. ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේගේ ජීවිතේ හරී පුදුමයි, මේවා පින්වතුනි මේ වාගේ වැඩසටහන් කිහිපයකින් කියලා ඉවර කරන්න බෑ මගේ බුදුරජාණන් වහන්සේ ඒ කාලෙ හිටපු විදිය. ඒ නිසා සරල සිංහලෙන් සූත්‍ර ටික පරිවර්තනය කරලා තියෙනවා. ලොකු ස්වාමීන් වහන්සේ ලස්සනට දහම් පොත් ඔබට කියවන්න හරිගස්සලා තියෙනවා. බණපටි තියෙනවා, සීඩී තියෙනවා, ඉන්ටනෙට් එකේ තියෙනවා, ගිහින් ධර්මය සොයාගෙන යන්න. කුණු කන්දවල් වලින් වැහිච්ච හිත් ධර්මයෙන් පුරවන්න. ධර්මයෙන් පුරවනකොට ඇතුලේ කුණු තෙරපී තෙරපී තෙරපී එළියට පැනලායනවා. ධර්මයට නිවහනක් වෙනවා. උතුම් අය ඉන්න තැන නීචයො නැත. නීචයෝ සිටින තැන උතුම් අය සිටින්නේ නැත. ඒ නිසා උතුම් අය ඇතුළට දාගන්න ධර්මය. එතකොට නීචවූ රාගය, නීච වූ ද්වේෂය, නීච වූ මෝහය, නීච වූ ඊර්ෂ්‍යාව, ක්‍රෝධය, වෛරය දොරවල්වලින් පැනලා යයි. මේ ධර්මයට ආස කරන්න. හිතන්න දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ඒ උතුම් ශ්‍රී සද්ධර්මය මම සරණ යනවා කියලා. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ආර්ය මහා සංඝරත්නය මම සරණ යනවා කියලා හිතන්න. ඒ උතුම් තිසරණය අපිව දුකින් නිදහස් කරත්වා.

ඉතින් අද දවසේ මේ උතුම් ශ්‍රී සද්ධර්ම දේශනාව ඉතාලියේ වෙරෝනා නගරයේ පදිංචි පින්වත් ගාමිණී රාජපක්ෂ මහත්මයා, පුණ්‍යා නන්දනී යන දෙපළ තමයි මුල්වෙලා මේ දායකත්වය දැරුවො. සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වෙලා මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. මියපරලොව ගිය ජී.ඩී. එඩ්වින් පියාණන්,

වයි. එලිස්නෝනා මැණියන්, සෙල්ලප්පෙරුමගේ ලොරන්ස් පියාණන් සහ ජී.ඩී. කරලයින් නෝනා මැණියන් සහ දෙමව්පියන් සියලු දෙනාට පින් අනුමෝදන් වේවා. මියගිය ඥාතීන් පරලොව සැපයට පත්වේවා කියාල පින් පමුණුවන්න. ඒ වගේම මේ උතුම් පරම මධුර මනෝහර ශ්‍රී සද්ධර්මය අපිට පැහැදිලියෙන් සිංහලෙන් සරලව, ඒ වගේම ආදරයෙන්, කරුණාවෙන්, මෛත්‍රියෙන්, ශාසන හැඟීමෙන් අපිට මේ ධර්මය දායාද කල අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, දීර්ඝායුෂම ලබත්වා කියලා සාදු කියන්න. ඒ වගේම මේ රැස් කරගන්න යෙදුනා වූ සියලූම පුණ්‍ය ධර්මයන් ඒකාන්තයෙන් අනුමෝදන් වෙත්වා, ඒ ඉතාලියේ වෙරෝනා නගරයේ පදිංචි පින්වත් ගාමිණී රාජපක්ෂ මහත්මයා, පුණ්‍යා නන්දනී මහත්මිය ඇතුළු සියලුදෙනාට මේ පින් බලයෙන් නිදුක්, නිරෝගී සුව, ධර්මයේ පිහිට සරණ සැලසේවා. කොරෝනා වෛරසය හේතුවෙන් රෝගාතුරව සිටින සකල ලෝකවාසී සත්ත්වයා ඉක්මණින් නිදුක් නිරෝගී වේවා, වසංගත බිය දුරින්ම දුරු වේවා. ඒ වගේම ඔබ අප කාටත් මව් දෙමව්පිය ඥාති බන්දුමිත්‍රාදීන්ට ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ ධර්මය ශ්‍රවණය කරන, ඒ වගේම කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට අපි කාටත් අසිරිමත් සම්බුදු සරණේ සැනසී නිවනින් සැනසෙන්න මේ පින් හේතුවාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=045QeoOmyqM&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=93

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් ලෝකයට පහළ වෙලා පරම පවිත්‍ර ඒ උතුම් ශ්‍රී සද්ධර්මය මධුර මනෝහර කොට දේශනා කරද්දි මේ ලෝක සත්ත්වයා සංසාර දුකින් එතෙර වෙනවා. ඉතින් බුදුරජාණන් වහන්සේ නමක් පහළ වීම උතුම් බුද්ධ රත්නයේ පහළ වීමයි. උන්වහන්සේ දේශනා කරපු ශ්‍රී සද්ධර්මය ධර්ම රත්නයේ පහළ වීමයි. ඒ ධර්මයෙන් පිහිට ගත්තු ශ්‍රාවක සඟ පරපුර සංඝ රත්නයේ පහළ වීමයි. ඒ උතුම් තිසරණය කෙරෙහි සිත පහදවාගෙන අමා මහ නිවන කරා යන්න මාවත මේ බුද්ධ ශාසනයේ තියෙනවා. ඉතින් ඒ නිසා ඒ පිණිස උපකාරක දහම් පෙළක් විදියට තමයි අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන අපි දැන් බොහෝ කාලයක ඉඳලා මේ සිද්ධ කරන්නෙ. අද දවසේ මේ උතුම් ධර්ම දේශනාව ශ්‍රද්ධා රූපවාහිනියෙනුත් ලක්විරු ගුවන් විදුලියෙනුත් විකාශය කිරීම පිණිස දායකත්වය දරන්නේ නො.1606/1, කොට්ටාව, පන්නිපිටිය යන ලිපිනයේ පදිංචි පින්වත් දිනේශිකා සන්ධ්‍යාමාලී මෙනෙවියත් නෙවිල් ප්‍රනාන්දු රෝහලේ සහ නයින්වෙල්ස් රෝහලේ පින්වත් පිරිස සමඟ එතෙර සහ මෙතෙර සිටින පින්වත් කළණමිතුරු සියලු දෙනා එකතු වෙලා අද මේ ධර්ම දානය සිද්ධ කරන්නෙ.

ඉතින් පින්වත්නි ඔබට මේ පින්කමට මූලික වෙච්ච මේ පින්වත් දරුවන්, ඒ වගේම ඔබ සියලු දෙනා මේ ධර්ම දානයට සම්බන්ධ වෙච්චි බොහෝ පින් රැස් කරගන්නවා සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ සම්බුදු බණ පද මිනිස්සුන්ගේ සිත් වල දුක් ගිනි නිවා දමමින් ඒ සිත් සනසවන්න, මේ බණ පද අහන්න සලස්වන එක. ධර්ම දානයෙන් බොහෝ පින් රැස් වෙනවා. ගොඩාක් දුරට මේ ධර්ම දානයට දායකත්වය දරන පින්වතුන් ඒ දායකත්වය දරන්නේ බණ පදයක් අහලා හිත සැනසිලා. අනේ මටත් මේ වගේ බණ පද ටිකක් කියවාගන්න ඇත්නම් කියන අදහසින්. ඉතින් ඒ වගේම තමයි ඔබ මේ දායකත්වය දරන මේ වැඩසටහනිනුත් කාගෙහරි හිතක්, ලෝකෙ කොහෙහරි කෙනෙක්ගේ නිවිලා යනවා, හිත සංසිඳෙනවා. ගැටලු විසඳෙනවා. ශාසන පිහිට සැළසෙනවා. ඉතින් ඒ නිසා සුළු දෙයක් කියලා හිතන්න එපා ධර්ම දානය. ඉතින් පින්වතුනි ලෝකෙට සම්මා සම්බුදුරජාණන් වහන්සේ නමක් පහළ වෙලා ඒ බුදුරජාණන් වහන්සේ තමයි රාගය දුරු කරන හැටි, ද්වේෂය දුරු කරන හැටි, මෝහය දුරු කරන හැටි කියලා දෙන්නෙ. රාග, ද්වේෂ, මෝහ දුරු කරපු ශ්‍රාවකයා තමයි බුද්ධ ශාසනයේ සම්පූර්ණ ප්‍රයෝජනය ගත්තා බවට පත්වෙන්නෙ. මේ ධර්මය පුරුදු කරනකොට අපි තුලත් රාගය ක්ෂය වෙවී යනවා. ද්වේෂය ක්ෂය වෙවී යනවා. මෝහය ක්ෂය වෙවී යනවා. රාග, ද්වේෂ, මෝහ හිත්වලින් අඩු වෙනවා කියන එක සුලු දෙයක් කියලා හිතන්න එපා. පින්වතුනි අපිට ඕනම දෙයක් ගැන රාගය ඇතිවෙන්නෙ, ද්වේෂය ඇතිවෙන්නෙ, මෝහය ඇතිවෙන්නෙ ඒ දේ පිළිබඳව අපිට තියෙන අනවබෝධය නිසා. එතකොට යම් දවසක අවබෝධයට හිත පත්වුනාද, එතකොට අපිට මේ රාගය ඇතිවෙන්න කරුණක් නෑ, තරහ ඇතිවෙන්න කරුණක් නෑ. මෝහය ඇතිවෙන්න කරුණක් නෑ, ඉතින් ඒ නිසා බුදුරජාණන් වහන්සේ නොයෙක් ආකාරයෙන් රාගය දුරු කිරීම ගැන දේශනා කොට වදාළා. ඒ සඳහා බුදුරජාණන් වහන්සේ දේශනා කලා දැන් ශ්‍රාවකයන්ට හිත පාලනය කරගන්න, දැන් අපි බලමු පැවිදි ජීවිතයක හිත පාලනය කරගැනීම පිණිස, රාගය හිතට එන්නැතිව රාගයෙන් හිත වළක්වා ගැනීම පිණිස බුදුරජාණන් වහන්සේ වදාළා භික්ෂු භික්ෂුණීන්වහන්සේලාට ඒ තමයි තමන් දැක්කොත් එහෙම කාන්තාවක්, දැකලා තමන්ගේ හිතට අකුසල් සිතිවිලි එනවා නම් ඒ කාන්තාව වැඩිමහල් කෙනෙක් නම් හිතන්න කිව්වා මේ මගේ අම්මා වගේ, අක්කා වගේ ඊළඟට කුලේ වැඩිමහල් ලොකුඅම්මලා ඒ වගේ කියලා හිතන්න කිව්වා. එතකොට හිත ඒ සිතිවිල්ලෙන්ම රාග සිත සංසිඳෙනවා. ඊටපස්සෙ

බුදුරජාණන් වහන්සේ දේශනා කලා බාල කෙනෙක් නම් හිතන්න කිව්වා මගේම සහෝදරියක් වගේ. තමන්ගේ නැගණිය වගේ, එහෙම හිතනකොට හිතේ කෙලෙස් සංසිඳෙනවා. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ වදාළා එහෙමත් හිත සංසිඳෙන් නැත්නම් ඊළඟට බුදුරජාණන් වහන්සේ වදාළා අසුභය සිහි කරන්න. ඒ කියන්නෙ මේ ශරීරයක තියෙන කෙස් ලොම් නිය දත් සම මස් නහර ඇට, ඇටමිදුළු, වකුගඩු, හදවත, අක්මාව ආදී වශයෙන් මේ ශරීරය පිත සෙම් සැරව ලේ දහදිය තෙල්මන්ද කඳුළු දෙතිස් කුණප කොට්ඨාශයො සිහි කරනවා තමන්ගේ ශරීරයේ තියෙන. ඒ වගේමනෙ අන් අයගේ ශරීරත්. නව දොරකින් අශුචි වැගිරෙනවා. ඊළඟට මේ දත කට නිතර මැදගෙන තියාගන්න ඕන නැත්නම් ගන්ධස්සාරෙ හමනවා. ඊළඟට ශරීරයෙන් නිතර දහදිය වැගිරෙනවා. නිතර නිතර හෝදා ඉන්න ඕන. ඊළඟට මලමුත්‍රා එහෙන් ජරාව වැගිරෙනවා. ඉතින් මේ ශරීරය, තමන්ගේ ශරීරය, යථා ස්වභාවයම සිහි කරලා බාහිරට මේක ගලපනකොට තමන්ගේ හිත ඇවිස්සෙන් නෑ. එතකොට, සමහර අයට එහෙමත් ඒ අසුභයට හිත ගන්න බෑ. එතකොට පුරුදු කරන දෙයක් තමයි ඉන්ද්‍රිය සංවරය. කියන්නෙ ඇහින් රූපයක් බලලා හිත ඇවිස්සෙන විදියේ රූප බලන් නෑ. කණින් ශබ්ද අහලා හිත ඇවිස්සෙන විදියේ ශබ්ද අහන් නෑ, නාසයෙන් ගඳ සුවඳ විඳලා දිවෙන් රසය විඳලා, කයෙන් පහස විඳලා, හිතින් අරමුණු විඳගෙන ඒවගෙන් හිත අවුස්සවා ගන්නෑ. ඔය රාගය ප්‍රහාණය කරන ක්‍රම. ඉන්ද්‍රිය සංවරය ඕකට කියන්නෙ. එතකොට එහෙම නම් අද කාලෙ ගත්තොත් ඉන්ද්‍රිය අසංවරය සම්පූර්ණයෙන්ම ඇතිවෙන්නෙ ෆෝන් එකත් එක්කනෙ. එහෙනම් රාග ගින්නෙන් දැවෙන පිච්චෙන කෙනෙක් හිත පාලනය කරගන්න නම් මේ ෆෝන් එකේ ජරාවත් එක්ක ඉඳලා බෑ. එතකොට ඒකෙන් එයා අයින් වෙන්න ඕන. ගින්දරයි පුළුනුයි එකතු වුනාට පස්සෙ ගිනි ගන්නවා කියලා තමන්ට මොළයක් තියෙනවා නම් කන්හැන්දක තරම් වත් එයා ඇවිලෙන දේවල් දුරින් තියන්න ඕන. තමන්ට උවමනාවක් තියෙන්න ඕන. උවමනාව තියෙන කෙනා තමයි මේ කෙලෙස් ගඟෙන් ඈත් වෙන්නෙ. දැවෙන පිච්චෙන හිත දුරු කරගන්නෙ. ඊළඟට නරක කතා, හිත ඇවිස්සෙන කතා කියන යහළුවො අයින් කරගන්නවා. තමාගේ හිත අවුස්සන යම් චරිත තියෙනවා නම් ඒ අයගෙන් ඈත් වෙනවා. එහෙම තමයි හිත පාලනය කරගන්න තියෙන්නෙ. ඊටපස්සෙ අනිත්‍යය සිහි කරනකොට, හේතුඵල දහම සිහි කරනකොට ඊළඟට ඒ වගේ පරම ගම්භීර ධර්මය සිහි කරනකොට ඒ හිතේ තියෙන රාගය එහේම්මම

නැතිවෙලා යනවා. ඉතින්, හැබැයි ලේසි නෑ මේවා. අපි ඔහොම කිව්වට ලේසි නෑ. මේ ධර්මය පුරුදු කරන්න අමාරුයි ගැඹුරුයි කියලා කියන්නෙ ධර්මයේ තියෙන දෝෂයක් නෙවෙයි. ධර්මය ලස්සනට පිරිසිදුව පිළිවෙලට තියෙනවා. පුරුදු කරගන්න අමාරුයි. අපිට හිතෙන්නෑ දැන් අපි ඉගෙන ගත්තට ඒ වෙලාවට හිත ඇවිස්සෙන වෙලාවට ඒවා කරගන්න හිතෙන් නෑ. ඒකයි මේකෙ තියෙන දුෂ්කර බව. දැන් ඉස්සර එක ස්වාමීන් වහන්සේ නමක් තමන්ගේ හිතට රාගය - සොහොනෙ ගියා භාවනා කරන්න. භාවනා කරන්න යනකොට අළුත සොහොනට ගෙනල්ලා දාපු තරුණ කාන්තාවක්. ඉතින් හිවල්ලු ඇවිල්ලා වස්ත්‍ර එහෙට මෙහෙට කරලා ඉතින් ඒ ශරීරය දකිනකොට එහේම්මම රාග ගින්න ඇතිවුනා, පිච්චුනා. උන්වහන්සේ එහේම්මම දෑස් පියාගෙන ගහක් මුල අසුන් ගත්තා. බතක් ඉදෙන මොහොතින්, ඒ කියන්නෙ පොඩි වෙලාවක්නෙ. පැය කාලක්, විනාඩි විස්සක් වගේ. ඒ වගේ වෙලාවකින්ම හිත නිකෙලෙස් වුනා. එහේම්ම නැගිට්ටේ රහතන් වහන්සේ නමක් විදියට. කොහොමද ඒ කාලෙ හිත් සංවර කරපු හැටි. ඒ වගේම තමයි පින්වත්නි, ද්වේෂය. මෝහය කියන එක ප්‍රකට නෑ මිනිස්සුන්ට. කියන්නෙ හැම වෙලාවෙම මෝහයනෙ තියෙන්නෙ. එතකොට අමුතුවෙන් තේරුම් ගන්න දෙයක් නෑ මෝහය තමයි තියෙන්නෙ. ද්වේෂය අධික විදියට එනවා මිනිස්සුන්ට. මේ ද්වේෂය දුරු කරගන්න බුදුරජාණන් වහන්සේ කෙනෙක් පහළ නොවෙන්න නම් ක්‍රමයක් නෑ. හේතුව බුදුරජාණන් වහන්සේ පවා ද්වේෂය දුරු කරගන්නා ආකාරය නොයෙක් ආකාරයෙන් වදාළා. ඉතින් මං මෙච්චර විස්තරයක් කියන්න හේතුව බලන්න රාග, ද්වේෂ, මෝහ දුරු කිරීම පිණිස, දුරු කරන්න සිතිවිල්ලක් වත් අපිට හිතාගන්න පුලුවන් නේද මේ බණ පදයක් අහන එකෙන්. සමහර ගෙවල් වල ඉන්නවා ගෙවල් වල පස්දෙනා, පස්දෙනාම පුපුර පුපුරා ඉන්නේ. තරහෙන් ඉන්නෙ. වෛරයෙන් ඉන්නෙ. අද මාත් එක්ක ඇවිල්ලා පිරිසක් කතා කලා, ඒ පිරිස එක ගෙදර ඉන්නෙ කිව්වා මේ චූටි ගෙදරක. අම්මයි පුතයි දරුවොයි ආච්චි අම්මලයි. දැන් අම්මයි දුවයි තරහයි. එතකොට ඒ දුව ජීවත් වෙන්නෙ බත් පාර්සල් හදලා පාර අයිනෙ තියලා ඒවා විකුණලා තමයි දුව ජීවත් වෙන්නෙ. එතකොට අම්මා ඒ ගෙදරම ඉන්න තමන්ගේ අම්මා කෑම කන්නෙ කඩෙන්. දුවගේ රස්සාව ඒ ගෙදරම පාර අයිනෙ කෑම විකුණන එක. මේ අම්මා අවුරුදු පහක් දැනට කෑම කන්නෙ කඩෙන්. දුවව පේන්න බෑ. එක ගෙදර ඉන්නෙ. හැමදාම රණ්ඩු. එහෙන් දරුවො දරුවො, ස්වාමි බිරිඳ, ඔක්කොම රණ්ඩු. ගෙවල් වල තරහ වෛරය පුපුර පුපුරා තියෙන්නෙ. සමහර ගෙවල් වල බඩුමුට්ටු

නෑ, පොළොවේ ගහලා. උයාගත්තු බත කන්න නෑ, තරහ. සැමියා බිරිඳට වෛර කරනවා. බිරිඳ සැමියාට වෛර කරනවා. මෙහෙම කරන්නෙ ඇයි. එයාලා තම තමන්ගේ ජීවිතයේ සැනසිල්ල පිණිස, ආදරය පිණිස නේද විවාහ වෙන්නෙ. තමන් ආදරය කරන තමා වෙනුවෙන් මේ බිරිඳ ස්වාමියා කියලා මේ ලෝකෙ පිළිගත්ත ඒ තමාගේ කියන සංඥාවකින් වාසය කරන මේ අයට ඇයි වෛර කරන්නෙ. සමහර දෙම්පියෝ දරුවන්ට වෛරයි. දරුවො පේන්න බෑ, ඊළඟට සමහර දරුවන්ට දෙමව්පියො පේන්න බෑ. ජාති වෛරක්කාරයො වාගේ ගෙවල් වල ඉන්නෙ. තරහා. ඊළඟට පෙම්වතුනුත් ඒ වගේ. අද කාලේ ප්‍රේමය කියන්නෙ තරහෙන් බැන ගන්න එකට, කාමර වල ලගින එකටයි, රණ්ඩු වෙන එකටයි තමයි අද කාලෙ ප්‍රේමය කියන්නෙ. අපි ළඟට කතා බහ කරන්න ඔය වැඩසටහන් වලට ගියාම සමහර අය ඇවිල්ලා තියෙනවා, එක ගෑණු ළමයෙක් තවත් පුතෙක් එක්ක යාළුවෙලා ෆෝන් එක අරන් දවසට පැය දොළහක්, එක දවසක් පැය දොළහක් බැනලා. ඒත් අතහරින් නෑ, කරුම. බඳින්න කලින් පැය දොළහක් බනිනවා නම්, බැනුම් අහන්න අර කොල්ලට කරුමයක් තියෙනවා නම් බැන්දාට පස්සෙ කවර කතාද. ඒ නිසා තරහ, වෛර, ක්‍රෝධ මේ මිනිස්සුන්ගේ හිත් වල තියෙන ඒ කෙලෙස් ගිනි කොහාමද නිමා ගන්නෙ. මහණ වුනත් ඔය ප්‍රශ්නෙ එනවා. සමහර උන්නාන්සේලාත් ඉන්නවා බනින එකමයි වැඩේ. රජයට බනිනවා. ගමේ කාටහරි මිනිස්සුන්ට බනිනවා. කොහෙහරි උන්නාන්සෙලාත් ඉන්නවා. බුද්ධ කාලෙත් ඔහොම සිද්ධියක් වෙලා තියෙනවා, මං ඔය වටින් ගොඩින් ඔය රවුමක් ගිහිල්ලා ආවෙ මේ සූත්‍ර දේශනාවට. මේ සූත්‍ර දේශනාවෙ නම, ධම්මික සූත්‍රය. ඉතින් මේ ධම්මික තෙරුන් වහන්සේට හරියට තරහා යනවා. ඉතින් ඒක මුල් කරගෙන තමයි මේ දේශනාව කලේ. එතකොට දැන් සමහර අය - දැන් සංඝයා කොහොමටත් හුදෙක් සමස්ථයක් වශයෙන් හාමුදුරුවරු තරහ යන ගතිය අඩුයි. මට මතකයි ඒ හාමුදුරුවො මොන අදහසකින් කිව්වද කියලා තේරෙන් නෑ. ඒ කාලෙ මට වයස අවුරුදු දහතුනක්, දාහතරක් වගේ. මං ඈත අපේ ගම්වල ඉඳලා ඈත ගමකට මං පයින් ගියා, ගිහිල්ලා කොහෙහරි පන්සලකට ගොඩවුනා. පන්සලේ නායක හාමුදුරුවො කතා කරලා පුතා කොහෙද, ඊටපස්සෙ මං කිව්වා අහවල් ගම මගේ ගම. මං මේ පැත්තෙ ආවා, ඒකයි මං පන්සලට ගොඩ වුනේ. ඊටපස්සෙ කිව්වා පුතා ඔය ගමේ අහවල් මෙහෙමයි විස්තරයක් කියලා ඔය හාමුදුරුවරුන්ගෙ මොකක්හරි රණ්ඩුවක් ගැන කිව්වා. කියලා කිව්වා පුතා මම මන්තර ශාස්තර ඉගෙන ගත්තු කෙනෙක්. නමුත් ජීවිතේට මං මන්ත්‍ර ශාස්ත්‍ර

වලින් තවත් කෙනෙකුට හානියක් කරලා නෑ කිව්වා. මයෙ හිතේ ඒ හාමුදුරුවෝ දැන් අපවත් වෙලා ඇති. දැන් ගොඩක් කල්නෙ. ඊටපස්සෙ කිව්වා, මේ පොඩි එක්කෙනාට කිව්වෙ, මට ඒක හොඳට මතකයි ඒ සිද්ධිය. ඊටපස්සෙ කිව්වා පුතා සමහර වෙලාවට මං ඔය මිනිස්සුන්ගෙ හදි හූනියම් කෙරුවට පස්සේ ඒවා කපන්න යනවා. එතකොට ඒ මිනිස්සු මට කියනවා ඒක ආපිට යන්න කපන්න කියලා. නමුත් මං කවදාවත් එහෙම කරලා නෑ. මගේ හිතේ තියෙන්නෙ මම කාටහරි හූනියමක් කරනවා නම් හූනියම් දාහක් කරපු කෙනෙකුට මම හූනියමක් කරනවා කියන අදහසේ මම ඉන්නෙ. මට එහෙම කෙනෙක් ජේන්න නෑ කිව්වා. ඒ නිසා මං කවදාවත් කෙනෙකුට හානියක් කරන් නෑ කිව්වා. කිව්වා පුතා මට වෙලාවකට තරහ එනවා. තරහ ආපු ගමන් මං කරන්නෙ මගේ ඔලුව අතගානවා කිව්වා. මේ නායක හාමුදුරුවෝ කිව්වෙ. මං තරහ ආපුවාම මගෙ ඔලුව අතගානවා, ඔලුව අතගානකොටම මට තේරෙනවා, මට කෙස් නෑ, ඒ කියන්නෙ මං හාමුදුරු නමක්. භික්ෂුවක් තරහ ගන්න හොඳ නෑ කියලා මං හිස අතගානකොටම මට තරහා නැතිවෙනවා කිව්වා. අනේ ඒ නායක හාමුදුරුවෝ දැන් අපවත් වෙලා ඇති. ඉතින් බලන්න කෙස් බාලා ඉදීමේ තියන වටිනාකම. ඉතින් ඒ විදියට සමහර හාමුදුරුවරු එහෙමයි. ඊළඟට අපිට මුණගැහිලා තියෙනවා අනේ ලෝකෙ පෙරළුනත් තරහා ගන්නැති හාමුදුරුවරු මුණගැහිලා තියෙනවා. තව එක හාමුදුරු නමක් ගැන අපේ ලොකු ස්වාමීන් වහන්සේ මතක් කරලා තියෙනවා, ඒ ස්වාමීන් වහන්සේ ළඟදින් අපවත් වුනා. අවුරුදු විසිපහක් තරහා ගිහිල්ලා නෑ. අවුරුදු විසිපහක් තරහ ගිහිල්ලා නෑ. එතකොට කොහොම ඇතිද කියලා හිතන්නකො. මේ අද කාලෙත් සංඝයා ඉන්නවා. දැන් බුද්ධ කාලෙත් වෙලා තියෙනවා මේ තරහා යන සිද්ධි. එතකොට දැන් මොකද වුනේ, ඒ කාලෙ අපගේ බුදුරජාණන් වහන්සේ රජගහනුවර ගිජ්ජකූට පර්වතයේ වැඩ වාසය කළේ. ආයුෂ්මත් ධම්මික තෙරුණුවෝ ජාතිභූමි, ජාතිභූමියට අයත් ආවාස හතක් තිබිලා තියෙනවා. ඒ ආවාස හතේම උන්වහන්සේ වැඩවාසය කරනවා. මේ ආවාසෙ සතියයි, අර ආවාසෙ සතියයි ඔය වාගෙ වැඩ වාසය කරනවා. ඊටපස්සෙ මේ ධම්මික හාමුදුරුවෝ ආගන්තුක භික්ෂූන්ට නිතර ආක්‍රෝස කරනවා, පරිභව කරනවා. වෙහෙසවනවා. මුඛය නැමැති ආයුධයෙන් පහර දෙනවා. වචනයෙන් නුරුස්නා දේ කියනවා. එතකොට අර හරියට සැරට කතා කරනවා. හින්ට් පාස් කරනවා. ඉතින් අලුතින් එන හාමුදුරුවරුන්ට හිත් රිදෙනවා. ඉතින් අදාල නැති ඒවට බනිනවා. දොස් කියනවා. ඉතින් එතකොට මොකද වුනේ, අර ආගන්තුකව වඩින තෙරුන් වහන්සේලා ආරාමයේ රැඳුනෙ

නෑ. එතකොට ඒ ජාතිභූමියේ උපාසකවරු කල්පනා කලා අපි මේ තෙරුන් වහන්සේලාට චීවර පිණ්ඩපාත සේනාසන ගිලන්පස කියන සිව්පසයෙන් ඇප උපස්ථාන කරනවා. ඒත් මේ තෙරුන් වහන්සේලා ආගන්තුක ස්වාමීන් වහන්සේලා ඉන්නෙ නැනෙ. එනවා දවසක් දෙකක් ඉන්නවා, යනවා. ආරාමය පාළු වෙනවා. මොකක්ද මේකට හේතුව. එතකොට ඒ උපාසක පිරිසට තේරුනා, මේකට හේතුව තමයි මේ ආයුෂ්මත් ධම්මික තෙරුන් අපේ ආවාසයේ ඉන්න ධම්මික තෙරුන් වහන්සේට හරියට තරහා යනවා, හරියට හින්ච් පාස් කරනවා, වචනය නැමැති ආයුධයෙන් ගහනවා, අදාල නැති වචන නොකරපු වැරදි වලට පටවනවා, දොස් කියාගත්තු ගමන්, බනින්න කට උල්කරගෙන ඉන්නෙ. ඒ නිසා ආගන්තුක හාමුදුරුවරු යනවා. ඒකයි හේතුව. ඔන්න දැන් බලන්න නුවණක්කාරකම ඒ කාලෙ ඉන්න උපාසක වරුන්ගෙ, හේතුව මොකක්ද, දැන් අද කාලෙ කෑකොස්සන් ගහනවා පන්සල් පාළුවෙනවා, පන්සල් වැහෙන්න යනවා අපේ පන්සලේ හාමුදුරුවො රදින්නෙ නෑ, මොකක්ද මේ කියලා. එකෙක් ඉන්නවාද හේතුවක් හොයන. හේතුවක් හොයන උපාසකයෙක් නැත. එක්කො උපාසක මහත්තුරුම පොඩිහාමුදුරුවන්ට ටෙලිෆෝන් පූජා කරනවා, සල්ලිබාගෙ අතට දෙනවා. ඉතින් පොඩි හාමුදුරුවොත් ටෙලිෆෝන් එකෙන් ඔහේ පටලැවිලා තරුණ තිරිහන් වෙනකොට උන්වහන්සේලා යනවා. ඒක මේ පිරිවෙනක නායක හාමුදුරු නමක් අපිට කිව්වෙ. අනේ මේ පොඩිඋන්නාන්සේලා පරිස්සම් කරගන්න හරී අමාරුයි. හේතුව මේ දායකයො දාන වලට ගියාට පස්සෙ සල්ලි අතට දෙනවා, ඉතින් පොඩි අය අතේ සල්ලි ගැවසෙනකොට කරන්න තියෙන එකම දේ පොඩි හාමුදුරුවො කරන්නෙ ලොකු ෆෝන් එකක් ගන්න එක කිව්වා. ඊටපස්සෙ කාලයක් යනකොට මේ ෆෝන් එකම ඔබ ඔබා ඉදලා ඔහේ ආගිය අතක් නෑ කිව්වා සිවුර තියෙනවා කිව්වා වැලේ. ඉතින් ඒ නිසා එතකොට දායකයො දැනගන්න ඕන මොකක්ද අපේ පන්සලේ ඉන්න හාමුදුරුවො අපි රැකගන්නෙ කොහොමද, අපේ පන්සලට හාමුදුරුවො වඩම්මවගන්නෙ කොහොමද, අපේ පන්සලේ හාමුදුරුවන්ට සිව්පසය කොහොමද, ඒ හාමුදුරුවරුන් ගැන බලන්න ඕන. ඊළඟට සමහර වෙලාවට නායක හාමුදුරුවන්ට සීනි අමාරුව, එක්කො කොලෙස්ට්‍රොල් හෝ මොකක්හරි අමාරුවක් ඇතිවුනාට පස්සෙ නායක හාමුදුරුවො කියනවා මිටිකිරි දාන්නැතිව පතෝල හදාගෙන වරෙන්. වැටකොළු හදාගෙන වරෙන් කියලා. ඊටපස්සෙ දායකයො ටික දානෙ ගේන්නෙ දියට හදාපු වැටකොළුයි, පතෝලයි, දියට හදාපු වට්ටක්කයි, දියට හදාපු ලබුයි,

ඔය ටික තමයි අරන් එන්නෙ. පන්සලේ ඉන්නවා පොඩිහාමුදුරුවො. පොඩිහාමුදුරුවන්ට සීනි නැනෙ. පොඩි හාමුදුරුවන්ට ඊළඟ මාසෙ මන්දපෝෂණේ හැදෙනවා. ඇයි අර දායකයාගේ තියෙන මොළේ පිළිබඳ ප්‍රශ්නයක් නේද මේක. ඒ නිසා පන්සලේ හාමුදුරුවරු රඳිනවාද, නැද්ද කියන එකට කල්පනා කරන්න ගමේ එක මිනිහෙකුටවත් මොළයක් තියෙන්න ඕන. මේ බුද්ධ කාලෙ. බුද්ධ කාලෙ උපාසක වරු කල්පනා කලා ඇයි අපේ ආරාමයේ තෙරුන් වහන්සේලා රඳින්නැත්තෙ. ඊටපස්සෙ ඒ උපාසකවරුන්ට තේරුනා ධම්මික හාමුදුරුවන් සැර වැඩියි. ඒ නිසා උපාසකවරු ගිහිල්ලා කිව්වා තෙරුන් වහන්ස, ඔබවහන්සේගේ ක්‍රියාකලාපය නිසා හාමුදුරුවරු මෙහෙ රැඳෙනවා අඩුයි. අපි කැමැති ගොඩාක් තෙරුන් වහන්සේලාට උපස්ථාන කරන්න. ඒ නිසා අපි ඔබවහන්සේ මෙහෙ ඉන්නවට කැමැති නෑ. තවත් ආවාස තියෙනවා ඔබ වහන්සේට වඩින්න පුලුවන්. ධම්මික තෙරුන් වහන්සේගේ හිත ගොඩාක් රිදුනා. දැන් තමන්ට එපායැ වැටුනම රිදෙන්න. ඊළඟට උන්නාන්සෙ ඊළඟ ආවාසෙට ගියා. දැන් ආවාස හතක් තියෙනවානෙ. ජාතිභූමියේ ප්‍රධාන ආරාම හතක් තියෙනවා. එහෙ ගිහිල්ලත් දැන් ඒ සද්දෙ නම් නෑ අඩුවක්. පොඩ්ඩ වැරදිච්ච ගමන් සද්දෙ. ඒ ආරාමයටත් හාමුදුරුවරු නැවතුනා. ඒ උපාසකවරුන් කල්පනා කලා මොකද මේ සිව්පසයෙන් උපස්ථාන කරද්දි මේ ආරාමෙට කවුරුත් එන්නැත්තෙ. ඊටපස්සෙ බලනකොට ධම්මික හාමුදුරුවන්ගේ වචන සැරයි, ආයුධයෙන් විදිනවා වගෙයි. නොකරපු දේට දොස් කියනවා. ආගන්තුක තෙරුන්ට හින්ට් පාස් කරනවා. උන්වහන්සේලා යනවා, පීඩාවට පත්වෙන්න අමාරුයි. ඒ ආරාමයේ මිනිස්සුත් දායකයෙට ටිකත් එකතු වෙලා ධම්මික තෙරුන්ට කිව්වා, තෙරුන් වහන්ස, අපි ඔබවහන්සේ ඉන්නවාට කැමැති නෑ, මොකද අපි කැමැති ගොඩාක් හාමුදුරුවරුන්ට ඇප උපස්ථාන කරන්න. ඔබවහන්සේගේ ක්‍රියා කලාපය සැරයි නිසා හාමුදුරුවරු යනවා. ඉතින් අපි මොකද කරන්නෙ මේකට. ඒ නිසා ඔබවහන්සේ වෙන ආරාමෙකට යන්න කිව්වා. මේ විදියට ජාතිභූමියේ ආරාම හතෙන්ම නෙරපෙව්වා ධම්මික තෙරුන්. ඊටපස්සෙ ධම්මික තෙරුන් කල්පනා කලා හත්දෙයියනේ දැන් මං කොහෙටද යන්නෙ. කල්පනා කරලා මට දැන් යන්න තැනක් නෑ, යන යන හැම තැනින්ම මාව පන්නනවා. දැන් ඔන්න වෙනස බලන්න, මේ තෙරුන් වහන්සේ කල්පනා කලා මං දැන් යන්න ඕන මගේ භාග්‍යවතුන් වහන්සේ ළඟට. බුදුරජාණන් වහන්සේ යම් තැනක නම් මං එතෙන්ට යනවා. ඔන්න බුද්ධ කාලයෙයි අදයි වෙනස. අද ආරාමයකින් පන්සලකින් මෙහෙන් යන්න කියලා ඊළඟ

පන්සලෙනුත් පැන්නුවොත් ඊළඟට නවතින්නෙ ගෙදර. එතකොට මොනවහරි ආරාමයක හෝ පන්සලක හෝ ප්‍රශ්නයක් ඇතිවුනාට පස්සෙ තමන්ගේ ගුරු ස්වාමීන් වහන්සේ නැත්නම් භාග්‍යවතුන් වහන්සේ සොයාගෙන අද කාලෙ වුනත් යන්න පුලුවන්නෙ. භාග්‍යවතුන් වහන්සේ කියලා කියන්නෙ කවුද. ස්වර්ණමාලි මහා සෑයේ ද්‍රෝණයක් ධාතූන් වහන්සේලා වැඩ ඉන්නවා. බුදුරජාණන් වහන්සේට ජීවමානව සළකනවා වගේ සළකන්නෙ මහා සෑයට. මහා බෝධීන් වහන්සේට. ඒ වගේ තැනකට ගිහිල්ලා, දැන් මෙහෙමයි අපි ඔක්කොම සංසාරෙ යන අයනෙ. ප්‍රශ්නයක් වුනාම ගිහි මිනිස්සුම නෙවෙයි රුවන්වැලිසෑය ජයශ්‍රී මහාබෝධිය ගාවට යා යුත්තෙ. අපිත් යන්නෙ. අපි ඔක්කොම ශ්‍රාවකයොනෙ. ඒ නිසා දෘෂ්ටිය පිරිසිදු කරගන්න ඕන. ඊටපස්සෙ මොකද වුනේ අර තෙරුන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේ ළඟට යනවා කියලා තීරණය කලා. ඉස්සර ඔහොම වුනා, එක හාමුදුරු නමක් කාන්තාවක් ගැන හිත - අනුරාධපුර යුගයේ, කාන්තාවකට හිත ගිහිල්ලා සිවුරු අරින්න හිතුනා. සිවුරු අරින්න හිතිලා හිතුනා මොකටත් මට දැන් හිත හදාගන්න අමාරුයි මට දැන් සිවුරු හරින්නමයි හිතෙන්නෙ, ඒ නිසා මොකටත් භාග්‍යවතුන් වහන්සේට ගිහිල්ලා මගේ දුක් ගැනවිල්ල කියනවා කියලා රුවන්වැලිසෑයට ගිහිල්ලා වටේ පැදකුණු කර කර ඉන්නකොට ගෑණු කෙනෙක්ගේ හඬක් ඇහුනා. අනේ නොදකිං මගේ මිනිහා දැන් ඒ ගෑණු කෙනා සෑය වඳින්නෙ එහෙම. අනේ නොදකිං මගේ මිනිහා, පින් බත් කකා ඉඳලා සිවුරු ඇරලා මේකා ගෑණියෙකුට පෙරේත වෙලා ඇවිල්ලා මාව අරන් ගියානෙ. නොදකිං මේකා. දැන් මේ පින්බත් කකා ඉඳලා ඇවිල්ලා අතේ පයේ හයියකුත් නෑ ගොවිතැනක් බතක් කරන්නත් නෑ, ඒකට කඹුරන්න ඕනත් මම. අනේ භාග්‍යවතුන් වහන්ස, උපනූපන් ජීවිතේ හීරළුවෙක් එක්ක නම් කසාද බඳින්න සිද්ධ වෙන්න එපෝ කියලා අර ගෑණු කෙනා රුවන්වැලි සෑය වඳිනවා. දැන් මල් මිටකුත් අරන් අර හාමුදුරුවො පිටිපස්සෙන් යනවා දැන් සිවුරු අරින්න උන්වහන්සේගෙත් කල්පනාව. තිත්ත වුනා. අර ගෑණු කෙනාගෙ වචන ටික අහලා තිත්ත වුනා. ඔය අනුරාධපුර යුගයේ වෙච්චි දෙයක්. එහේම්මම සෑය වැඳලා භාග්‍යවතුන් වහන්සේ මට සමාව දෙන්න කියලා ඇවිල්ලා ඒ උන්නාන්සේ පස්සෙ කාලෙ අර්හත්වයට පත්වුනා. යෝනිසොමනසිකාරය. බේරුනේ ඇයි, මහාසෑයට ගිය නිසානෙ. ඒ කර්මානුරූපව ගානට එකතු වුනා විස්තරය. ඊටපස්සෙ මොකද වුනේ මේ තෙරුන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේ ළඟට වැඩම කලා. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ දුරින්ම එනකොට අහනවා ආ ධම්මිකයෙනි, කොහෙ

ඉඳලද මේ කියලා ඇහුවා. මගේ බුදුරජාණන් වහන්සේ හරි කරුණාවන්තයි. සතුටු සාමීචියෙන් යුක්තයි. දුරින් පැමිණෙන කෙනාට සිනහමුසු මුහුණින් කතා කරනවා. ඊටපස්සෙ කියනවා ස්වාමීනී, දැන් හැමතැනකින්ම බැහැර කරපු කෙනෙක් යනකොට බුදුරජාණන් වහන්සේ ආ ධම්මික කොහොමද, කොහෙ ඉඳලද එන්නෙ කියලා අහනකොට, එතනින්ම දුක්ගිනි ඉවරයි නේද. හැම පැත්තෙන්ම ප්‍රශ්න හැදිලා ඔක්කොගෙන්ම තමන් ප්‍රතික්ෂේප වෙලා ගෙදරට එනකොට තමන්ගේ අම්මා මගේ රත්තරන්, උඹලා මට බරක් නෑ කියලා ඇවිල්ලා තුරුල් කරගන්නකොට ඒකම නේද ගින්දර නිවෙනවා කියන්නෙ. ඊටපස්සෙ භාග්‍යවතුන් වහන්සේ ආදරයෙන් කතා කලා. කියනවා ස්වාමීනී ජාතිභූමි ආවාසයේ උපාසකවරු මාව ඒකෙන් බැහැර කලා. ඒ ආවාස වලින්. මං මේ යනඑන මං නැතිව එනවා කිව්වා. පොඩි ළමයෙක් වගේ ධම්මික හාමුදුරුවෝ. හැම තැනකින්ම මාව බැහැර කලා, මං ඒ නිසා යන එන මං නැතිව ආවා කිව්වා. බුදුරජාණන් වහන්සේ වදාළා කමක් නෑ ධම්මික ඔබ කොහෙන් නෙරපෙව්වත් මං ළඟට ආවනෙ. මේකෙ තියෙනවා ඒ විදියටම. කම් නැත බ්‍රාහ්මණ ධම්මිකයෙනි, කිම එහි විසීමෙන් ඔබට කවර ඵලයක් ද, යම් හෙයකින් ඔබ ඒ අවාසෙන් නෙරපත් නම්, ඒ ඒ වෙහෙරෙන් නෙරපනු ලදුව මා වෙතට ආවේය. කියනවා ධම්මික අනේ ඇයි ඔය ආවාසවල ඔයා හිටියේ. ඔය හැමතැනකින්ම ඔහේ බැහැර කරද්දින් ඇයි ඔය තැන්වල හිටියේ. කමක් නෑ දැන් මං ළඟට ආවනෙ. පුදුමයි ඒ මගේ බුදුරජාණන් වහන්සේගේ කරුණාව. යසයි ඔහේට වෙච්ච දේ, ඔහේගෙ කට නිසා නැහෙන්නෙ කියලා පටන් ගත්තෙ නැත. අනේ කමක් නෑ මං ළඟට ආවනෙ කිව්වා. ධම්මික, මං ඔබට - බුදුරජාණන් වහන්සේ බ්‍රාහ්මණ ධම්මික කියලා කියනවා මගේ හිතේ මේ ධම්මික තෙරුන් බ්‍රාහ්මණ කුලයේ. ඒකත් එක්ක අර බ්‍රාහ්මණ ධම්මික, දැන් හැමතැනින්ම තිබ්බෙ ධම්මික ධම්මික කියලානෙ. බුදුරජාණන් වහන්සේ නම හොඳට කතා කරනවා. බ්‍රාහ්මණ ධම්මික මං ඉස්සර වෙච්චි දෙයක් කියන්නම්. වෙළෙන්දො සාගරයේ නැව් වලින් වෙළඳාමේ යද්දින් ගොඩබිමක් හොයාගන්න අරගෙන යනවා කුරුල්ලෙක්. ඊටපස්සෙ ඒ කුරුල්ලා නැවේ ඉඳලා මුදාහරිනවා. ඊටපස්සෙ ගොඩබිමක් තිබ්බොත් ඒ ගොඩබිමට සේන්දු වෙනවා. එතකොට ඒ කුරුල්ලා ගිය දිශාව අනුව නැව අරගෙන යනවා. ගොඩබිමක් නැත්නම් කුරුල්ලා අහසේ කැරකිලා කැරකිලා ආයෙත් නැවට එනවා. ධම්මික ආවාසයෙන් අවාසයට නෙරපලා නැවෙන් මුදාහල කුරුල්ලෙක් නැවට එනවා වගේ ධම්මික ඔබ මං ළඟට ආවා. මං ළඟ ඔබ පැවිදි වෙලා බුදුරජාණන් වහන්සේ ශාස්තෘන්

වහන්සේ කරගෙන ඈතට ගිහිල්ලා පිළිසරණක් නොලබා ධම්මික නුඹ මං ළඟට ආවා. ධම්මික තෙරුන්ගේ හිත කොච්චර වෙනස් වෙන්න ඇතිද. බුදු කරුණාව. ඊටපස්සෙ කියනවා ධම්මික මං තව කාරණාවක් කියන්නම්. ඒ තමයි ධම්මික කෝරව්‍ය කියන රජතුමාගෙ කාලෙ සුප්පතිට්ඨ කියලා ශාඛා පහක් තියෙන සිහිල් සෙවණ තියෙන මහා නුග ගහක් තිබ්බා, මේ රාජ්‍යයේ. බ්‍රාහ්මණ ධම්මික, සුප්පතිට්ඨ නුගරුක අතුපතර විහිදිලා දොලොස් යොදුනක් විහිදිලා තිබ්බා, විශාල නුග වෘක්ෂයක්. ඒ කෝරව්‍ය රජතුමාගේ කාලෙ, ඈත. ඒ සුප්පතිට්ඨ නිග්‍රෝධරාජයාගේ සුවිසල් ගෙඩි සහල් නැළියක බත් පිසිනා තලිය බඳුයි. විශාල ගෙඩි තිබිලා තියෙන්නෙ. දොස් රහිත දඬුවැල් බෑ මීයක ඇති රසවත් බව ඒ රුක් ඵලයෙහි විය. මේ වෘක්ෂය නිසා තමයි දඹදිවට ජම්බුද්වීපය කියන නමආවෙ. ඒ ගෙඩිය ඇතුලෙ මී වදයක් වගේ. ඈත වෙච්චි දෙයක් මේ කියන්නෙ. ඉතින් කියනවා බ්‍රාහ්මණ ධම්මික, සුප්පතිට්ඨ නිග්‍රෝධ රජුගේ එක් කදක් අන්තඃපුර ස්ත්‍රීන් - ගහේ තියෙනවානෙ අතු පහක් තියෙනවා. ඒකෙන් එක අත්තක අන්තඃපුර ස්ත්‍රීන් සහ රජතුමා අනුභව කරනවා. ඒ අත්තෙ තියෙන ගෙඩි. අනිත් අත්තෙ තියෙන ගෙඩි, බල සේනාවෙ කට්ටිය අනුභව කරනවා. එක කඳක තියෙන ගෙඩි, ජනපද වාසීන් අනුභව කරනවා. එක කඳක තියෙන ගෙඩි බ්‍රාහ්මණවරු. එක කඳක තියෙන ගෙඩි පක්ෂීන් සතා සීපාවා අනුභව කරනවා. දැන් බලන්න අර බුදුරජාණන් වහන්සේගේ ධර්ම දේශනාවේ ආනුභාවය. අර ධම්මික, ඇයි ධම්මික එහෙදින් මොකද වුනේ කින්ද මන්ද, ඔයාට ඇයි තරහා ගියෙ, ඔයා ඇයි සැර කලේ. ඒ මොකවත් නෑනෙ. වෙනම කතාවක් දැන් යන්නෙ. ඉතින් මේ විදියේ ගෙඩි තිබිලා එකිනෙකා කිසිම හිංසාවක් නැතිව අර අතු පහේ කණ්ඩායම් පහ ඒ ගෙඩි භුක්ති විඳිමින් ඒ රාජ්‍යයෙ මිනිස්සු සුවසේ ඉන්නවා. ඉතින් බ්‍රාහ්මණ ධම්මික එක්තරා පුරුෂයෙක් නිග්‍රෝධ වෘක්ෂයේ පල කැමැති තාක් අනුභව කරලා යන ගමන් අත්තක් බිඳලා ගියා. මේකට ආසාවක් ඇතිවුනා, අත්තක් බිඳින්න. ඒ ගෙඩි කාලා අත්තක් බිඳලා ගියා. එතකොට ඒ ගහට අරක් ගත්තු දෙවියාට හිතුනා, භවත්නි ඒකාන්තයෙන් ආශ්චර්යයියි, ඒකාන්තයෙන් අද්භූතයි, පාපී මිනිසෙක් මේ සුප්පතිට්ඨ නිග්‍රෝධරාජයාගේ යම්තාක් ඵල අනුභව කොට අත්තක් බිඳ ගියා නොවැ. එයින් සුප්පතිට්ඨ නිග්‍රෝධ රාජයා ඉදිරියට ඵල නොදෙන්නේ නම් මැනවැයි කියලා ඒ ගහේ රුක් දෙවියා මැදිහත් වෙලා ඊළඟ පාර ඉඳලා ගෙඩි හැදෙන් නෑ ගහේ. එතකොට මේකෙන් තව දේවල්, අතරතුර තේරුම් ගත යුතු දේවල් තියෙනවා. අපිට සාමාන්‍යයෙන් වෘක්ෂයක ඵල ගැනිල්ලේදී ගෙඩි කඩා

ගැනීමේදී අතු කැඩෙනවා නම් ඒකට අපිට කරන්න දෙයක් නෑ. අපි ඒ ගහෙන් කාලා බීලා අපි ඒ ගහේ අතු කඩනවා නම්, සමහර විට ඉන්නවානෙ සමහර තරුණ ළමයි ඒ වාගේ මිනිස්සු කල්පනාව අඩු. ඒකනේ ගහක හෙවණකට ඉඳලා ඒ ගහේ අත්තක් කඩන්න එපා කියන්නෙ. මිත්‍රද්‍රෝහී කියන්නෙ. ඊටපස්සෙ ඒ දෙවියා කෝපවෙලා දැන් ගෙඩි නෑ. එතකොට එහෙනම් දැන් මේකෙ තව එකක් තියෙනවා, සාමාන්‍යයෙන් ඵලදාව හටගන්න සමහර, දැන් අපි කියමුකො රඹුටන් කියලා. කොස්, දෙල්, එහෙම නැත්නම් අඹ, පේර ඔය වගේ පළතුරු වෙන්න පුලුවන්. ඒ වගේ යම් දෙයකින් ඉස්සර හොඳට ඵලදාව තිබිලා දැන් ඵලදාව එන්නැත්නම් සමහර විට ඒ වෘක්ෂ වලට අධිගෘහිත යම් අමනුස්ස කොටස් වල කෝපයක් වෙන්න පුලුවන්. දැන් මේ තියෙන්නෙ. එතකොට ඒ අය සමා කරවාගන්න එක, ඒ අය සතුටු වෙන විදියට කටයුතු කරන එක තමයි ඊළඟට තියෙන්නෙ. දැන් එහෙම අපිට ලොකු ස්වාමීන් වහන්සේ මතක් කරලා තියෙනවා, ආරණ්‍ය වල ඉද්දින් එහෙම ඵලදාව නොදෙන යම් මල් ගස්, ඒ වගේම පළතුරු ගස් වලට ලොකු ස්වාමීන් වහන්සේ ඉන්න කාලවල ඒ ආරණ්‍ය වල බුද්ධ පූජාවේ පැන් ගෙනිහිල්ලා ඉතිපිසෝ ගාථාව කියමින් කරණීයමෙත්ත සූත්‍රය හෝ ඒ වාගේ සෙත් පතමින් ඒ ගහට පැන් ඉහලා තියෙනවා. අනිවාර්යයනේ ඊළඟ වාරෙ ඵල හටගෙන තියෙනවා. ඕක කෙමක්. ඊටපස්සෙ දැන් ඔන්න නුග ඵල දෙන් නෑ. අර වෘක්ෂයේ. එතකොට කෝරවිය රජු සක්දෙව් රජු කරා ගියා. එතකොට ඒ කාලෙ රජවරු ඍද්ධියෙන් යනවා. සක්දෙවිඳු මුණගැහෙන්න ගිහිල්ලා කිව්වා, නිදුකාණෙනි, ඔබ දන්නවාද සුප්පතිට්ඨ නුග ගහේ ගෙඩි හැදෙන් නැනෙ කිව්වා. ඊටපස්සෙ හා මං ඒක බලන්නම් කියලා සක්දෙවිඳු කලේ මහාවැස්සක් සුළඟක් මවලා අර ගහ පෙරලුවා. දැන් ගෙඩි හැදෙන්නැත්නම් ගෙඩි හැදෙන් නැති ගහකින් වැඩක් නෑ කියලා සුළඟක් ඇවිල්ලා මේ විශාල සුළඟක් වැස්සක් එක්ක ගහ පෙරළුවා අනිත් පැත්තටම. එතකොට මොකද වුනේ නුග දේවතාවුන් වහන්සේට යන එන මං නැතිව දුකට පීඩාවට පත්වෙලා ශක්‍ර දේවේන්ද්‍රයා කරා කෙහෙවළු කඩාගෙන අඬාගෙන ගියා, මගේ නුග විමානය නැතිවුනා කියලා. ඉතින් අහනවා සක්දෙවිඳු අහනවා, වෘක්ෂ දේවතාව, ඔබ වෘක්ෂ ධර්මයේ පිහිටා සිටිද්දීම නම් මහ වැසි සුළඟක් අවුදින් භවන හෙලා දැමුවේද, මුලින් උදුරා දැමුවේද. වෘක්ෂ ධර්මයේ පිහිටා ඉන්නකොටද ඔය ගහ ගැලවුනේ කියලා ඇහුවා. ඊටපස්සෙ කිව්වා ස්වාමීනී වෘක්ෂ ධර්මය මොකක්ද කියලා මං දන්නෑ කිව්වා. ඒ තමයි කිව්වා දෙවිය ගහක අරක් ගත්තට පස්සෙ ඒ ගහේ මුල් කැමැති

අය ඉන්නවා නම් මුල් අරන් ගියපුවාවෙ. ඊළඟට සිවියෙන්, පොත්තෙන්, මලින්, ගෙඩියෙන්, අතු ඉති වලින් මොනවහරි ප්‍රයෝජනයක් තියෙනවා නම් ඒ මිනිස්සු ඒවා අරගෙන ගියපුවාවෙ. ඒ වෘක්ෂයට අධිගෘහිත දෙවියා ඒ දෙය කෙරෙහි උපෙක්ෂාවට පත්වෙන්න ඕන. අන්න ඔහොම අදහසකින් ධර්මයකින් ඔබ ඉද්දින්ද ඔය ගහ ගැලුවනේ. අනේ ස්වාමීණී, නිදුකාණන් වහන්ස, සක්දෙවිඳුනි, මන්නම් ඔහොම හිටියෙ නෑ කිව්වා. ඉතින් කිව්වා නුඹ වෘක්ෂ ධර්මයේ ඉන්නවා නම් ඒ වෘක්ෂය තිබ්බ විදියටම තියෙයි කිව්වා. මං පොරොන්දු වෙනවා සමාදන් වෙනවා අද ඉඳලා මං වෘක්ෂ ධර්මයේ ඉන්නවා. ඒ කියන්නෙ ගෙඩි කැමති අය ගෙඩි අරන් ගියාවෙ. පොත්ත කැමැති අය පොත්ත අරන් ගියාවෙ. මුල් කැමැති අය මුල් අරන් ගියාවෙ. අතු කැමැති අය අතු අරන් ගියාවෙ. මං ඒ ධර්මයේ පිහිටලා ඉන්නම්. මිනිස්සුන්ට කෝප වෙන් නෑ කිව්වා. ඊටපස්සෙ ධම්මික මහා වැසි හුළඟක් සක්දෙවිඳු මවලා ආපහු අනිත් පැත්තෙන් හුළඟ ඇවිල්ලා ගහ තිබ්බ විදියටම තිබ්බා ආයෙ, සෘද්ධියෙන්. මං අහන්නෙ මේකයි ධම්මික, ශ්‍රමණ ධර්මයේ ඉද්දින්ද ඔය උපාසකවරු ධම්මික, ඔබව ආවාසයෙන් බැහැර කළේ. දැන් භාග්‍යවතුන් වහන්සේ ඔය වචනය ගන්න ලස්සනට පරිසරය හැදුවා. මේ බුදුරජාණන් වහන්සේ සරණ යන්න කියන්නෙ ඒකයි. කරුණාව. ධම්මික ශ්‍රමණ ධර්මයේ ඉද්දින්මද මිනිස්සු ඔබව බැහැර කළේ? ස්වාමීනී මොකක්ද ශ්‍රමණ ධර්මය? එය තමයි ධම්මික බනින කෙනාට බනින් නෑ, ඒක තමයි කිව්වා මහණ කම. ක්‍රෝධ කරන කෙනාට ක්‍රෝධ කරන් නෑ කිව්වා. ඒක තමයි කිව්වා ධම්මික මහණකම. දබර කරන අයත් එක්ක පෙරලා දබර කරන් නෑ, ඒක තමයි කිව්වා මහණ කම. බ්‍රාහ්මණ ධම්මිකයෙනි මේකතමයි ශ්‍රමණ ගුණධර්ම. අද කාලෙ කොහොමද, පහුගිය දවස්වල අර සංගීත පුටු තරගෙ මතකද. පාර්ලිමේන්තුවේ හාමුදුරුවො තුන් නමක් කැරකෙන්නෙ. එක පුටුවට. සංගීත පුටු තරඟය. දබර කරන ලෝකයේ දබර නොකරන එක මහණකම. කලහ කරන ලෝකෙ, ක්‍රෝධ කරන ලෝකෙ, එතකොට ඒ වාගේ ලෝකෙක ඒ කාලෙ කරලා තියෙන්නෙ ඒ ශ්‍රමණ ධර්මය නැති අය බැහැර කරන එක. අද කතිර ගහනවා. ඒකයි සුදුසු නැත්තෙ. භික්ෂුවක් බබළන්නේ ධර්මාසනයේ. භික්ෂුවකට ධර්මාසනයමයි. දෙව් මිනිසුන් අතර බබළන්නේ භාවනාසනයෙන්. ඉතින් ඒ නිසා බලන්න ශ්‍රමණ ධර්මයේ ඉද්දින්මද ධම්මික නුඹ බැහැර කළේ. අනේ ස්වාමීනී නෑ, මම තරහා ගත්තා, දබර කලා, ක්‍රෝධ කලා, වෛර කලා. බ්‍රාහ්මණ ධම්මික මං කාරණාවක් කියන්නම්, ඒ තමයි ඉස්සර හිටියා සුනෙත්ත කියලා කාමයේ වීතරාගී වෙන දර්ශනයක් තියෙන මෛත්‍රී කරුණාව ගැන කියන ශාස්තෘවරයෙක් හිටියා. ඒ

ශාස්තෘන් වහන්සේ බ්‍රහ්ම ලෝකෙට යන්න බණ කිව්වා. කියද්දි ඒ ශාස්තෘන් වහන්සේගේ ශ්‍රාවකයො මරණින් මත්තෙ බ්‍රහ්ම ලෝකයේ ඉපදුනා. ඔන්න ඔය සුනෙත්ත ශාස්තෘන් වහන්සේට හිත පැහැදුනු අය හිටියා නම් අනේ කොච්චර හොඳ ශාස්තෘන් වහන්සේ නමක්ද කියලා ඒ හිත පැහැදිච්ච අය මරණින් මත්තෙ දිව්‍ය ලෝකෙ ඉපදුනා. හිත අපහදවගත්ත අය මරණින් මත්තෙ ධම්මික, නිරයේ ඉපදුනා. ඊටපස්සෙ කියනවා ධම්මික මීට පෙර ලෝකයේ හිටියා කාමයේ වීතරාගී තාපස ජීවිතයක් ගත කරන මුගපක්ක කියලා ශාස්තෘන් වහන්සේ නමක්. ඊටපස්සෙ මම හිතන්නෙ මේ මුගපක්ක ශාස්තෘන් වහන්සේ කියලා කියන්නෙ, තේමිය කුමාරයාට. තේමිය කුමාරයා නිසා මුළු රාජ්‍යයම එතුමාගේ යටතට ආවනෙ. ඒ තාපසයින් වහන්සේගේ ශ්‍රාවකත්වයට, මෙත්තා, කරුණා, මුදිතා, උපෙක්ඛා බ්‍රහ්ම විහරණ පිළිබඳවනෙ ධර්මය දේශනා කලේ. ඒ සියලු දෙනා බ්‍රහ්ම ලෝකෙ ගියානෙ. මුගපක්ක තාපසයින් වහන්සේට හිත පැහැදිච්ච අය දිව්‍යලෝකෙ ඉපදුනා. ඊටපස්සෙ තියෙනවා ඔය විදියට හිටියා අරණේමි කියලා, ඒවගේම කුද්දාලක කියලා, ඒ වගේම හත්ථිපාලක කියලා, ඒ වගේම හිටියා ජෝතිපාල, ජෝතිපාල කියන්නෙ මහා ගෝවින්ද, මහා ගෝවින්ද සූත්‍රය අපි කතා කලා. බුදුසරණ වැඩසටහනින්. එතකොට මහා ගෝවින්ද ශාස්තෘන් වහන්සේ. එතකොට ඒ කාලයේ මහා ගෝවින්ද ශාස්තෘන් වහන්සේගේ කාලයේ හිත පහදවගත්තද යම්කිසි කෙනෙක් ඒ ශාස්තෘන් වහන්සේ ගැන, ඒ හිත පහදවා ගත්තු අය සුගතියේ ඉපදුනා. කාමයේ වීතරාගී මේ මෛත්‍රී කරුණාව ගැන බණ කියනවා. ඊටපස්සෙ කියනවා ධම්මික මොකක්ද හිතන්නෙ. යමෙක්, ආගමික මතයක් පැවැසූ කාමයන්ගේ වීතරාගී නොයෙක් සිය ගණන් පිරිවර වූ ශ්‍රාවක සංඝයා සහිත මේ ශාස්තෘන් වහන්සේ සය දෙනා කෙරෙහි සිත දූෂ්‍ය කරගත්තොත්, ආක්‍රෝශ කලොත්, පරිභව කලොත්, ඒ තැනැත්තා බොහෝ පව් රැස් කරගන්නවාද නැද්ද කියලා ඇහුවා. සුනෙත්ත ආදී ශාස්තෘවරු කරුණා මෛත්‍රිය ගැන කියද්දි ඒ අය ගැන තරහා ගත්තොත් එයා පව් රැස් කරගන්නවාද නැද්ද. ස්වාමීනී ගොඩක් පව් රැස් කරගන්නවා. බ්‍රාහ්මණ ධම්මික යමෙක් ආගමික මතයක් පැවසූ කාමයන්ගෙන් වීතරාගී වූ නොයෙක් සිය ගණන් පිරිවර සහිත වූ ශ්‍රාවක සංඝයා සහිත ශාස්තෘවරු සයදෙනා කෙරෙහි සිත දූෂ්‍ය කරගෙන ආක්‍රෝශ පරිභව කරන කෙනා බොහෝ පව් රැස් කරගන්නවා නම් ඔය හයදෙනාටම අමනාප වෙලා ඔය කියපු හයදෙනාටම අමනාප වෙලා පිරිසටත් අමනාප වෙලා ජීවිත කාලෙම ඒ අයට දොස් කිය කියා ඉන්නවා කියන්නකො, එයා යම් පවක් රැස්

කරගන්නවා නේද, ධම්මික, ඊට වැඩිය බරපතලයි කිව්වා, දිට්ඨිසම්පන්න සෝවාන් පුද්ගලයෙකුට බැන්නොත් එහෙම. දිට්ඨිසම්පන්න සෝවාන් වෙච්චි කෙනෙකුට දොස් කිව්වොත් කාමයේ වීතරාගී බ්‍රහ්මලෝකය පිණිස කටයුතු කරන සියගණන් ශ්‍රාවකයන් සහිත සුනෙත්ත, ජෝතිපාල, මුගපක්ඛ ආදී ශාස්තෘන් වහන්සේලා හය දෙනාටම ශ්‍රාවකයන් සහිතව ජීවිත කාලෙම බැන්න පාපයට වැඩිය පාපය වැඩියි කිව්වා එක සෝවාන් වෙච්චි කෙනෙකුට බැන්නොත්. මේවා තේරුම් ගන්න. ඊටපස්සෙ කියනවා මාගේ සසුනේ සබ්‍රහ්මචාරීන් හේතුව තමයි කියනවා පින්වත් ධම්මික, මේ බුද්ධ ශාසනේ සංඝයා ඉවසන ගුණ තියෙනවා. ඇතුලේ ඉවසීමේ ගුණ තියනෙවා. ඒ නිසා ධම්මික ඔබ හික්මෙන්න ඕන. සබ්‍රහ්මචාරීන් වහන්සේලා ගැන මං තරහ ගන්නෑ කියලා. ධම්මික ඔය විදියට හික්මෙන්න කිව්වා. දැන් තේරෙනවාද, බණ දහම් කියන, ගුණ ධර්ම කියලා දෙන, ගුණදහම් තියෙන තෙරුන් වහන්සේලාට ගැරහීමේ විපාක. කට තියෙන පළියට දොස් පරොස් කීමේ විපාක. බුද්ධ කාලෙ හරි භයානකයි. මොකද සාමාන්‍යයෙන් ආගන්තුක ස්වාමීන් වහන්සේ නමක් වඩිනවා. ඒ ස්වාමීන් වහන්සේ රහත් වෙලාද සෝවාන් වෙලාද දන්නෑ, ධම්මික හාමුදුරුවො කට තියෙන පළියට කියනවා. එතකොට මේක මහ බරපතලයි. භාග්‍යවතුන් වහන්සේ පුදුම කරුණාවකින් මේ ධම්මික තෙරුන් වහන්සේ ගොඩ ගන්නෙ. මේ ධම්මික තෙරුන් වහන්සේ ශාසනයේ පිහිට ගත්තා. ඔක්කොම අත්හැරියා. ශාස්තෘ සම්පත්තියෙන් සැනසුනා. අනිත් එක බලන්න බුදුරජාණන් වහන්සේම මේ සූත්‍රයේම - තව කොටසක් තියෙනවා, මේ කොටසේම නැත්ද, කරුණාව වැඩිපුර දක්වනවා. තරහා යන අය තරහෙන් දමනය කරන්න එපා. වැඩිපුර තරහා යන අයට වැඩිපුර ආදරේ දෙන්න ඕන. ගෙදර මනුස්සයාට වැඩිපුර තරහා යනවා නම් ඒ ගෙදර බිරිඳත් තරහා ගත්තොත් ඒ ගෙදර ප්‍රශ්න විසඳෙන් නෑ. ගෙදර මනුස්සයාට තරහා යන එක වැඩි නම් බිරිඳ තරහා ගන්න එක අඩු කරන්න ඕන. දෙමාපියන්ට තරහ යන එක වැඩි නම්, දරුවො තරහා ගන්න එක අඩු කරන්න ඕන. දරුවො තරහා යන එක වැඩි නම් දෙමව්පියො කන්ට්‍රෝල් වෙන්න ඕන. මොකද කරන්නෙ. තම තමන් මේ කෙලෙස් ගඟෙන් නිදහස් වෙලා යන්න ඕන. ඒ නිසා ධම්මික මේ සෝවාන් වෙච්චි මාර්ගඵල ලාභී ධර්මය පුරුදු කරන අයට දොස් පරොස් කීම භයානකයි. පාපය වැඩියි. ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ ධම්මික තෙරුන්ට ගාථා ටිකක් කියලා දුන්නා. සුනෙත්ත මුගපක්ඛ අරනෙමි කියන බ්‍රාහ්මණ තුමා හා කුද්දාලක ශාස්තෘ හත්ථිපාල මානවක සත් රජවරුන්ට පුරෝහිත

වූ ජෝතිපාල නම් වූ මහා ගෝවින්ද අතීත කාලෙ අහිංසකව, කීර්තිධරව සය වැදෑරුම් ශාස්තෘවරු විදියට වැඩ හිටියා. ක්‍රෝධ සංඛ්‍යාත ආමගන්ධයෙන් තොර වූ කරුණා ධ්‍යානයන්ගෙන් නීවරණයෙන් නිදහස් වූ කාම සංයෝජනයන් මැඩලූ, කාමරාගය දුරු කොට ඔවුහු බඹ ලොව ඉපදුනා. ඒ ශාස්තෘන් වහන්සේගේ ක්‍රෝධ සංඛ්‍යාත ආමගන්ධයෙන් තොර වූ කරුණා ධ්‍යානයෙන් නීවරණයන්ගෙන් නිදහස් වූ කාමසංයෝජනයන් මැඩලූ කාම රාගය දුරු කරගත් නොයෙක් සිය ගණන් ශ්‍රාවකයෝද, බඹ ලොව උපන්නා. යමෙක් ඒ වීතරාගී වූ සමාහිත සිත් ඇති බාහිර සසුනට අයත්, බුද්ධ ශාසනේ අය නෙවෙයි, බාහිර අයට සිත දූෂිත කලාද, පරිභව කලාද, එබඳු පුරුෂයෝ බොහෝ පව් රැස් කරගත්තා. යමෙක් බුදුරජුන්ගේ ශ්‍රාවක වූ එක් දිට්ඨි සම්පන්න වූ භික්ෂුවකට දූෂිත හිතින් පරිභව කරයි නම් ඒ පුරුෂයා පෙරටත් වඩා බොහෝ වූ පව් රැස් කරන්නේය. දිට්ඨි උපදින තැන් ප්‍රහාණය කරන සුලු සොඳුරු ස්වභාවය ඇති ශ්‍රාවකයෙකුට හිංසා කරන්න එපා. ඒ ශ්‍රාවකයා ආර්ය සංඝයා අතර සත්වෙනි පුද්ගලයා යැයි කියනු ලැබේ. සෝතාපන්න එක්කෙනා ගැන. ඊළඟට කාමයන්හි අවීතරාගී වූ ශ්‍රද්ධා සති විරිය සමාධි ප්‍රඥා යන පඤ්චඉන්ද්‍රිය ධර්මයන් යමෙක් තුල මෘදු ලෙසවැඩී ඇත්ද, දැන් කෙනෙක් ඉන්නවා කාමයේ අවීතරාගී, කියන්නෙ කාමාශාව හිත්වල තියෙනවා. යම් ශ්‍රාවකයෙක් ඉන්නවා කාමාශාව දුරු කරලා නෑ, හැබැයි එයාගේ හිතේ ශ්‍රද්ධාව තියෙනවා. සිහිය තියෙනවා, සිත එකඟකම තියෙනවා, ප්‍රඥාව තියෙනවා. මේ ඉන්ද්‍රිය ධර්මයො මෘදු විදියට තියෙනවා, පොඩ්ඩ පොඩ්ඩ තියෙනවා. හැබැයි රාගයත් තියෙනවා. එබඳු වූ භික්ෂුවකට හිංසා කොට කළින්ම වැනසෙනවා. ඒ කෙනෙකුට බැන්නත් ඉවරයි කිව්වා. බොහෝ පව් රැස් වෙනවා. පළමුව තමන්ගේ ගුණ සා වනසාගෙන පසුව අනුන්ට හිංසා කරයි. ඉස්සෙල්ලාම තමන්ම නැහිලා, ඇයි ආක්‍රෝශ කරන්න හිතෙන ද්වේෂය තමා තුළින්නෙ හටගන්නෙ. ඊටපස්සෙ ලෝකෙට බනිනවා. අනිත් අයට මඩ ගහනකොට තමන් අතින් මඩ අල්ලලානෙ ගහන්නෙ. ඉස්සෙල්ලා තමන්ගෙ ගෑවෙන්නෙ. යමෙක් තමාත් රකී නම්, බාහිර පුද්ලයාත් ඔහු විසින් රකිනා ලද්දේ වේ. එහෙයින් ගුණයෙන් නොවැනසුනු නුවණැත්තා හැම කල්හි තමාව රැකගත යුත්තේය. ඒ නිසා නුවණින් යුතු කෙනා හැමවෙලාවෙම තමන් රකින්න ඕන. තමන් රකින්නෙ කොහොමද අනුන් රකින්නෙ කොහොමද, තරහා ගන්න එපා කිව්වා. අනේ ධම්මික තෙරුන් අහිංසක වුනා, දහම පුරුදු කලා, ශාස්තෘ සසුනේ පිහිට ගත්තා. බුදුරජාණන් වහන්සේ කොච්චර කරුණාවෙන් මේ ප්‍රශ්නෙ

විසඳුවාද. බුද්ධ කාලෙන් පස්සෙ මේ ප්‍රශ්න වලට බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයො මේ දේශනාව ඇසුරෙන් කොච්චර විසඳුම් ගත්තද. බුදුරජාණන් වහන්සේ දේශනා කලා සංඝයා රණ්ඩු වුනොත් එහෙම තේරෙන කෙනෙක් ගිහිල්ලා අහන්න කියනවා ඔබ වහන්සේලාට මේ රණ්ඩු වෙන තරහ සිතිවිලි දුරු කරන්නැතිව නිවන් දකින්න පුලුවන් ද කියලා. එපමණකින්ම සන්සිඳෙනවා කිව්වා ප්‍රශ්නෙ. නිවන් දකින්න ආපු තෙරුන් වහන්සේලා නම් ගිහිල්ලා අහන්න කිව්වා ඔබවහන්සේලාට මේ තරහ කියන එක දුරු කරගන්නැතිව නිවන් දකින්න පුලුවන්ද. එකිනෙකාට දොස් කියන එක දුරු කරගන්නැතිව නිවන් දකින්න පුලුවන්ද කියලා අහන්න කිව්වා. දැන් මගෙන් ඇහුවා තරුණ පුතෙක් භාවනාවට එන, ඒත් භාවනාවට එන තව පුතෙක් අමනාප වෙලා. මට ඇවිල්ලා කිව්වා අනේ ස්වාමීන් වහන්ස අමනාප වෙලා. මං කිව්වා එයා යම් දවසක ශාසන පිහිටක් ගන්නවා නම් ඔය අමනාප සිත තියාගෙන එයාට ශාසනයේ දියුණුවක් ලබන්න පුලුවන් ද, ස්වාමීනී බෑ. ඒ නිසා එයා කවදා හරි ශාසනේ පිහිට ගන්නවා නම් ඔයා ගැන තියෙන අමනාප සිත දුරු වෙන්න ඕන. ඒ නිසා එයාගේ ධර්මය වැඩෙනකොට ඒක හරියයි කිව්වා. හිත සන්සිඳුනා. ඒ නිසා ඔබ වුනත් හිතන්න මට මේ බුද්ධ ශාසනේ පිහිට ගන්න පුලුවන්ද මට මෙච්චර තරහ ගිහිල්ලා. මට මෙහෙම බැණලා දොස් කියලා මට බුද්ධ ශාසනෙන් පිහිට ගන්න පුලුවන් ද. ඒ තැන කල්පනා කරන්න. කියතකින් කැපුවත් තරහ ගන්නවා නම් මගේ ශ්‍රාවකයෙක් නෙවෙයි කිව්වා බුදුරජාණන් වහන්සේ. කියතේ උපමාව සිහි කරන්න කිව්වා. බුදුරජාණන් වහන්සේ කියතෙන් කපද්දි බෝධිසත්ත්ව කාලෙ ඉවසුවා. තමන්ගෙ අත පය කපද්දි ඉවසලා හිටියානෙ බෝධිසත්ත්ව කාලෙ. ඉවසලානෙ කිව්වෙ ඉවසන්න කියලා. අපේ ශාස්තෘන් වහන්සේ එහෙමනෙ. අනේ මේ සම්මා සම්බුදුසරණින් සැනසී අපිටත් තරහ ගන්නැති හිතක් හදාගන්න ඇත්නම් කොයි තරම් එකක්ද. ඒ නිසා තරහා යන අය මුළු හදවතින්ම දිවි තිබෙන තුරු බුදුරජාණන් වහන්සේ සරණ යන්න. බෝධිසත්ත්ව කාලෙ පවා තරහා ගත්තෙ නැති බුදුරජාණන් වහන්සේ සරණ යන්න. තරහව දුරු කරන මේ උතුම් ශ්‍රී සද්ධර්මය සරණ යන්න. තරහව දුරු කරගත්ත මේ ආර්ය සංඝරත්නය සරණ යන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. මේ උතුම් තිසරණය අපේ හිතේ බුර බුරා නැගෙන කෙලෙස් ගිනි නිවාදමත්වා.

අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන නො.1606/1, කොට්ටාව, පන්නිපිටිය ලිපිනයේ පදිංචි පින්වත් දිනේෂිකා සන්ධ්‍යාමලී මෙනෙවිය, නෙවිල් ප්‍රනාන්දු රෝහලේ සහ නයින්වෙල්ස් රෝහලේ පින්වත් පිරිස සමග එකතු වෙලා, මේ රටේ ඒ වගේම පිටරටවල සිටින ඒ දරුවන්ගේ හිතමිත්‍රාදීන් එකතු වෙලා ධර්ම දායකත්වය සලසනවා. ඉතින් සියලු දෙවියෝ මේ පින් අනුමෝදන් වී මේ දරුවො ඇතුලු සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම මේ වසරේ අගෝස්තු මස 27 වෙනි දිනට මියපරලොව ගොස් වසර පහක් සපිරෙන, 2015 වසරේ මියපරලොව ගිය අනුර කරුණාරත්න පියාණන්ට සහ මේ වසරේ නොවැම්බර් මස මියපරලොව ගොස් වසර 11ක් සපිරෙන 2009 වසරේ මියපරලොව ගිය නලීන් ඇල්විටිගල පියාණන්ට පින් අනුමෝදන් වේවා. මියපරලොව ගිය සියලු ඥාතීන්ට මේ පින් අනුමෝදන් වේවා. අසිරිමත් ගෞතම බුදු සසුනේ පිහිට පිළිසරණ අපිට සලසා දෙන අපේ පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ ලබත්වා. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුළු ගරුතර මහා සංඝරත්නයට, ඒ වගේම සිල්මෑණිවරුන්ට, පැවිදි අපේක්ෂක දරුවන්ට සියලු දෙනාට මේ පින් බලයෙන් ධර්මාවබෝධය සැලසේවා. ඒ වගේම අගෝස්තු මස 25 වෙනි දින ජන්ම දිනය සැමරූ පින්වත් ඊශානි උපේඛා දියණියට ඒ වගේම අගෝස්තු 28 වන දින මේ ධර්ම දේශනාව පැවැත්වෙන ජන්ම දිනය සමරන පින්වත් අනෝමා කරුණාරත්න මෑණියන්ට සෙත් ප්‍රාර්ථනා කරනවා නිදුක්, නිරෝගී, දීර්ඝායුෂ සම්පත්තිය බුදු සසුනේ පිහිට පිළිසරණ සැලසේවා. තරහ යන්නැති හිතක් ලැබේවා කියලා. ඒ වගේම දැනට රෝගී තත්ත්වයෙන් පසුවන පින්වත් දෙව්සිත දිසානායක පුංචි පුතාට නිදුක් නිරෝගී සුවයම මේ පින් බලයෙන් සැලසේවා. සියලුම දෙනාටත්, ඒ වගේම දිනේෂිකා සන්ධ්‍යාමාලි මෙනෙවිය ඇතුළු ඒ නෙවිල් ප්‍රනාන්දු රෝහලේ, ඒ වගේම නයින්වෙල්ස් රෝහලේ පින්වත් පිරිස ඇතුළු ඒ පින්වත් දායක වූ සියලු දෙනාටත්, ඔබ අප කාටත්, මව් දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් ශ්‍රද්ධා රූපවාහිනියෙන්, ලක්විරු ගුවන් විදුලියෙන් ධර්මය අහන, ඒ වගේම කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට, අපි කාටත් තරහ යන්නැති සිතක් හදාගන්න, උතුම් ගුණධර්ම දියුණු කරගන්න, සසර දුකින් නිදහස් වෙන්න, අසිරිමත් සම්බුදු සරණේ පිහිට ලැබේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=_bYLSTbGWEU&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=94

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අද දවසේ අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන සමඟ ඔබ එකතු වෙන්නෙ. අපි සරණ ගිය බුදුරජාණන් වහන්සේ කොයිතරම් ගුණ සමුදායකින් වැඩ සිටිනවාද කියන කාරණාව ඔබට මෙතෙක් කාලයක් මේ ධර්මය ශ්‍රවණය කරනකොට තේරෙන්න ඕන. ඒ කියන්නෙ මේ වෙනකොට අපිට මතක හැටියට දහම් වැඩසටහන් අනූපහක් බුදුගුණම කියලා තියෙනවා. එතරම් බුදුරජාණන් වහන්සේගේ බුදුගුණ අවසන් කරන්න බෑ. කොයි සූත්‍ර දේශනාවකින් ගත්තත් භාග්‍යවතුන් වහන්සේගේ අනන්ත බුදුගුණයම ප්‍රකට වෙනවා. ඒ නිසා බුද්ධ දේශනා ඇසුරින් බුදු ගුණ කියනවා නම් සූත්‍ර දේශනා දහඅටදාහම කියන්න වෙනවා. අදත් සූත්‍ර දේශනාවක් ඇසුරින් භාග්‍යවතුන් වහන්සේ මේ ලෝක සත්ත්වයාට සලසපු යහපත ගැන ඉගෙන ගන්නවා. ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් ඉන්ද්‍රාණි හේරත් මහත්මිය තමයි අද දවසේ දායකත්වය දරන්නෙ මේ උතුම් ධර්ම දේශනාව සඳහා. ඉතින් ලෝක සත්ත්වයාට ධර්මය ශ්‍රවණය කරන්න මේ ධර්ම දායකත්වය සලසලා ඒ රැස් කරගන්න පින තමන්ට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා කියන සන්තෝෂය හිතේ තියාගෙන ධර්ම ශ්‍රවණය කරන්න. ඉතින් පින්වත්නි අපි මීට කලින් දවසක ධම්මික සූත්‍ර කතා කරද්දී, බුදුරජාණන් වහන්සේගේ කරුණාව ගැන කතා කලා. ඒ වගේම තමයි ඒ ධම්මික තෙරුන් තරහා ගන්න චරිතයක්. හරි සැරපරුෂ චරිතයක්. එතකොට බුදුරජාණන් වහන්සේ ධම්මික තෙරුන්ව දමනය කරපු හැටි තියෙනවා, ආදරෙන්මයි දමනය කලේ. ඊටපස්සෙ ධම්මික තෙරුන්ට කර්ම විභාගය ගැන කියලා දුන්නා. සුනෙත්ත මුගපක්ඛ ජෝතිපාල ඊළඟට අරනේමි ආදී ඒ ශාස්තෘන් වහන්සේලා

හය දෙනෙක් ලෝකයේ හිටියා, කාමයේ වීතරාගී සිය ගණන් ශ්‍රාවකයො ඉන්න, ඒ ශාස්තෘන් වහන්සේලාත් මරණින් මත්තෙ බ්‍රහ්ම ලෝකෙ ගියා ශ්‍රාවකයොත් බ්‍රහ්ම ලෝකෙ ගියා, මෙත්තා, කරුණා මුදිතා උපෙක්ඛා කියන බ්‍රහ්මවිහරණ වලින් වාසය කලේ. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා ඒ තාපසයන්ට හිත පහදවගත්ත යම් කෙනෙක් හිටියා නම් ඒ අයත් මරණින් මත්තෙ දෙව්ලොව ඉපදුනා. ඒ අය ගැන හිත අපහදවගත්ත අය හිටියා නම් ඒ අය බොහෝ පව් රැස් කරගත්තා. බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඔය ශාස්තෘවරු හය දෙනාටම අපැහැදෙන එක දොස් කියන එක පුංචි දෙයක් කිව්වා. නමුත් සෝතාපන්න ශ්‍රාවකයෙකුට යම්කිසි කෙනෙක් දොස් කීවොත් ඒ කෙනාට ඒක බොහෝ කාලයක් අහිත පිණිස, දුක් පිණිස පවතිනවා කිව්වා. හේතුව අර ශාස්තෘවරු හයදෙනාටම නොතිබෙන ඉවසීමක්, දහම් දැක්මක්, ඥාණයක් සෝතාපන්න කෙනාට තියෙනවා. එතකොට හිතන්නකො අර ශාස්තෘවරු හයදෙනාටම හිත පැහැදෙන එකට වඩා සෝතාපන්න කෙනෙකුට හිත පැහැදෙන එක ශ්‍රේෂ්ටයි. එතකොට අර ශාස්තෘවරු හයදෙනාට හිත පැහැදිලා දිව්‍ය ලෝකෙ ඉපදුනා නම් සෝවාන් කෙනෙකුට හිත පහදින කෙනා කොහාමත් දෙව්ලොව උපදිනවානෙ. සෝවාන් කෙනෙකුට පැහැදීම එහෙම විපාක නම්, සකදාගාමී කෙනෙකුට පැහැදෙන එක. සකදාගාමී කෙනෙකුට පැහැදෙන එක එහෙම විපාක නම් අනාගාමී කෙනෙකුට පැහැදෙන එක. අනාගාමී කෙනෙකුට පැහැදෙන එක එහෙම විපාකයක් නම් රහතන් වහන්සේලාට පැහැදෙන එක. ඒ රහතන් වහන්සේලාට පහදින එක එච්චර විපාක නම් මේ ලෝකයේ සියලු මාර්ග ඵල ලාභීන් බිහිවෙන්නේ ලොව්තුරා සම්මා සම්බුදුරජාණන් වහන්සේ නිසා. ඒ නිසා බුදුරජාණන් වහන්සේ නමකට පැහැදුනොත් කොයි තරම් නම් විපාකද. සිතාගත නොහැකි තරම්. වචනයෙන් කිව නොහැකි තරම් විපාක. බුදුරජාණන් වහන්සේට පැහැදෙන කෙනා සුගතියේ ඉපදෙනවා, ඉපදෙනවා, ඉපදෙනවාමයි. මේ ධර්මයට පහදින කෙනා, රහතන් වහන්සේලාට පහදින කෙනා සුගතියේ උපදිනවාමයි. දැන් මේ ලෝක සංඛ්‍යාත සිංහල බෞද්ධ ජනතාවගෙන් පින් ඇත්තො එකතු වෙලා ශ්‍රී අංගුලිමාල මහා සෑය ඉදි කලේ අංගුලිමාල මහරහතන් වහන්සේට පැහැදිලා. එතකොට සෝතාපන්න කෙනෙකුට පැහැදෙන එක එහෙම නම්, රහතන් වහන්සේ නමක් වූ අංගුලිමාල මහරහතන් වහන්සේට පහදින එක කොහොමද. ඊළඟට මිහිඳු මහරහතන් වහන්සේ පිළිබඳව අපි කරපු දේශනා අහලා මිහිඳු මහරහතන් වහන්සේ වෙනුවෙන් කරන ස්තූපයකට අපි එකතු

වෙන්න කැමැතියි කියලා ගොඩක් අය මා හට කතා කලා. එතකොට අපිට ඉදිරියේ අදහසක් තියෙනවා මිහිඳු මහරහතන් වහන්සේ වෙනුවෙන් ස්තූපයක් කරන්න. ඉතින් ඒ නිසා අපි ඒ පින්වතුන්ට මතක් කලා අපි කල්යල් ආවට පස්සෙ මතක් කරන්නම්, එතකල් ඉන්න. එතකොට ඒ මිහිඳු මහරහතන් වහන්සේ ගැන තියෙන පැහැදීමනෙ. කොහොම විපාක ද මිහිඳු මහරහතන් වහන්සේට පැහැදුනොත්. අපි රැයක් එළිවෙනකල් මිහිඳු මහරහතන් වහන්සේගේ ගුණ කිය කියා අපි කොච්චර පැහැදුනාද. රැයක් එළිවෙනකල් රන්කොත්වෙහෙරේ මහරහතන් වහන්සේලාගේ ගුණ කිය කියා පැහැදුනාද. පින් ඇත්තො කුසල් කලා. පින් ඇත්තො බොහෝ පින් රැස්කරගත්තා. තුණුරුවන්ට පහදිනවා කියන සුළු දෙයක් කියලා හිතන්න එපා. තුණුරුවන්ට පහදිනවා කියන එක සුලු දෙයක් කියලා හිතන්න එපා. ඉතින් ඒ නිසා ඒ විදියට කල්පනා කරන්න. ඒ වගේම තමයි ඒ ශාස්තෘවරු හයදෙනාගෙන් එක්කෙනෙකුට අපැහැදිච්ච අයත් පව් රැස් කරගත්තා නම් ඒක පුංචි දෙයක් කිව්වා සෝතාපන්න කෙනෙකුට අපහදිනවාට වඩා. සෝතාපන්න කෙනෙකුට අපැහැදුනොත් කොච්චර පාපයක් ද. එහෙනම් සකදාගාමී කෙනෙකුට, අනාගාමී කෙනෙකුට, රහතන් වහන්සේ නමකට අපැහැදුනොත්. පහුගිය කාලෙ බුදුන් උපන්නෙ ලංකාවෙ කියලා ගෝරණාඩුවක් යද්දි මිහිඳු මහරහතන් වහන්සේටත් එක එක කයිකතන්දර කියන්න ගත්තා. බොහෝ දෙනා බොහෝ පව් රැස් කලා. ඒ අතරෙ තමයි අහිංසක පිරිසක් මිහිඳු මහරහතන් වහන්සේගේ ගුණ කියමින් පහදින්නෙ. අහිංසක ජනතාව බේරාගැනීම පිණිසයි ඒ ව්‍යායාමය. ඒ ඇත්තො බොහෝ පින් රැස් කරගත්තා. දැන් සෑම ගෙදරකම මිහිඳු මහරහතන් වහන්සේට පැහැදුනු අය, සමහර අය පහන් දල්වනවා. සමහර අය බුදුන් වදිද්දි මිහිඳු මහරහතන් වහන්සේ සිහි කරනවා. කෙළෙහිගුණ සිහි කරනවා. ඊටපස්සෙ මට මේ ළඟදින් අපේ පාංශුකූලෙකට ගියා. පාංශුකූලෙත් පන්සලක හාමුදුරුනමක් මිහිඳු මහරහතන් වහන්සේ සිහි කලා, මට හරියට සතුටක් ඇතිවුනා. දැන් බණපලේත්, පාංශකූලෙත් මිහිඳු මහරහතන් වහන්සේ ගැන සිහිවෙනවා. කොච්චර එකක්ද. ඒ රහතන් වහන්සේලාට පැහැදෙන එක. භාග්‍යවතුන් වහන්සේට පැහැදුනොත් කවර කතාද. භාග්‍යවතුන් වහන්සේට දොස් කිව්වොත් කවර පාපයක් ද. එහෙනම් අන්‍යාගමික අය, වෙනත් දෘෂ්ටි මතවාද වල ඉන්න අය කොයිතරම් නම් පව් රැස් කරගන්නවා ඇතිද, නොදන්නා වූ ශාස්තෘන් වහන්සේ නමකට නොදැන ගරහලා. දැන් පහුගිය කාලෙ ඔය යශෝදරා උත්තමාවියට, තුණුරුවන්ට, ගරහ ගරහා සත්ත්වයො

ගියෙ. ඒ සත්ත්වයන්ට මේ මනුස්ස ජීවිතේ විතරයි. ඒ නිසා මේ කරුණු කාරණා තේරුම් ගන්න ඕන. අද විශේෂයෙන්ම මේ කියන්න ගත්තෙ හරී ලස්සන දහම් කාරණාවක් කියන්න. ඒ තමයි පින්වතුනි මේ අපිට කාලෙන් කාලෙට මේ බණ දහම් අහගෙන ඉන්නකොට එක එක රැලි එනවානෙ. රහත් වෙලා කියලා රැල්ලක් එනවා. සෝවාන් වෙලා කියලා රැල්ලක් එනවා. මේ බණ තමයි හරි අනිත් බණ වැරදියි කියලා. බුදුන් උපන්නේ ලංකාවේ කියලා රැල්ලක් එනවා. මෙයයි හරි අනිත් ඒවා වැරදියි. අපේ ලංකාවේ ඉතිහාසය වැරදියි. එයයි වැරදි මෙයයි හරි. ඉදමෙව සච්චං මොගමඤ්ඤන්ති, මේකම සත්‍යයයි අනිත් ඒවා බොරු. එක එක ඒවා එන්නෙ එක එක, කාලෙන් කාලෙට රැලි. එතකොට මේ විදියට යනකොට මිනිස්සුන්ට මේ කරකවලා අතැරියා වගේ වෙනවානෙ. දැන් මොකද කරන්නෙ මේ වාගේ වෙලාවකට. ආන්න ඒ ප්‍රශ්නෙට උත්තරයක් මේ දේශනාවෙ තියෙනවා. හරී වටිනවා. මේ දේශනාවෙ නම කාලාම සූත්‍රය. අපේ බුදුරජාණන් වහන්සේ කොසොල් ජනපදයේ චාරිකාවේ වඩිද්දි කේසපුත්ත නම් වූ කාලාමයන්ගේ නියම් ගමට වැඩම කලා. කේසපුත්තය අදටත් තියෙනවා. අද කේසපුත්තයට කියන නම මොකක්ද, කේසාරියා. අපි ඒ සාමාන්‍යයෙන් කුසිනාරාවේ ඉඳලා විශාලා, කුසිනාරාවයි විශාලාවයි අතර තමයි කේසාරියා තියෙන්නෙ. එතකොට අපි දඹදිව වන්දනා කරන්න යනකොට හොඳට වන්දනා කරනවා. අනේ ඉතින් දැන්නම් දඹදිව වන්දනා ගමන් නැත. පුලුවන් කාලෙ වැඳගත්තු අයට තමයි. මොකක් කරන්නද, අනිත්‍යය කියන එක දුටුවාද. ඒ නිසා පින්දහම් කරන ඒවා කියන එක පස්සට පස්සට කල්දාන්න එපා. ඊළඟ අවුරුද්දෙ දඹදිව යන්නම්, ඊළඟ අවුරුද්දෙ දඹදිව යන්නම් කියපු අයට දැන් දඹදිව වන්දනා පටන් ගන්න කාලයක් නෑ, මිනිස්සු මැරෙනවා දහස් ගණන් කොරෝනා වලින්. ඒ වගේම මේ ජීවිතෙත් අපි පින්කම් පස්සට දදා ඉන්න අතරෙම අපේ හුස්ම පොද යනවා. ඒ නිසා අද අදම කළයුතු පින්කම් අද අද කළ යුතු කුසල්, අද අද කළ යුතු දේ, තුණුරුවන් කෙරෙහි පහදින එක දැන් දැන්ම කරන්න. තුණුරුවන් කෙරෙහි පහදින්න කළයුතු දේ කියලා දේවල් නෑ පින්වත්නි. මේ ධර්මය අහන එකමයි තියෙන්නෙ. ධර්මය අහද්දින්ම හිතට උපදිනවා ප්‍රීතියක්. හරී සතුටක් එක්ක මගේ බුදුරජාණන් වහන්සේ කියලා හැඟීමක් එනවා. මේ බණ අහද්දි හිතෙනවා මේ ධර්මය කොච්චර ශ්‍රේෂ්ටයිද. අප්පේ පුදුම දේවල්නෙ කියලා තියෙන්නෙ කියලා හිතේ පැහැදීම ඇතිවෙනවා. අනේ රහතන් වහන්සේලා මේකෙන් එතෙර වුනානෙ, උන්වහන්සේලා කොච්චර ගුණ සම්පන්නයි ද කියලා ධර්මය අහද්දිම හිතට පැහැදීම එනවා,

ඒක තමයි ශ්‍රද්ධාව. නැත්නම් මං පැහැදෙනවා, මං පැහැදෙනවා කියලා දත කට කාගෙන හිටියා කියලා එහෙම ශ්‍රද්ධාව උපදින්නේ නැත. ඉතින් කේසපුත්ත, කේසාරියා ගමේ කාලාමයන්ගේ නගරයට භාග්‍යවතුන් වහන්සේ වැඩම කලා. ඒ කේසපුත්තයේ නියම් ගම් වැසියන්ට අහන්න ලැබුනා භවත්නි, දන්නවාද, අන්න ශාක්‍ය පුත්‍ර වූ ශාක්‍ය කුලයෙන් පැවිදි වූ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ කේසපුත්තයට වැඩම කරලා. ඒ ශ්‍රමණ භවත් ගෞතමයන් වහන්සේ රහතන් වහන්සේ නමක්. ඔය කතා වෙන්නෙ. කලාතුරකින් ලෝකෙට පහළ වෙන සම්මා සම්බුදුවරයෙක්. ඔය හැම තැනම ප්‍රසිද්ධයි. විජ්ජාචරණ සම්පන්න කියන්නෙ උන්වහන්සේටනෙ. සුන්දර නිවනට පැමිණි කෙනෙක්. ලෝකය අවබෝධ කරපු කෙනෙක්. අන් අය දමනය කරන කෙනෙක්. දෙවි මිනිස්සුන්ට ජීවිතයේ විමුක්තිය කියාදෙන කෙනෙක්. අවබෝධ කරපු ධර්මය මනාව දේශනා කරන කෙනෙක්. මහා පින්වන්තයෙක් ඔය. ඒ නිසා උන්වහන්සේ මුල මැද අග පිරිසිදු වූ ඒ උතුම් ශ්‍රී සද්ධර්මය දෙවියන් මරුන් බඹුන් සහිත ලෝකයාට මනාව දේශනා කරනවා. මිනිසුනේ ඔය වාගේ උතුම් රහතන් වහන්සේ නමක් මේ දෑහින් දැකගන්න ලැබුනොත් ඒක ලාභයක් නෙවෙයිද. යමල්ලා ඒ උත්තමයන් වහන්සේ දෑහින් දැකගෙන එමු. ඔන්න ගමේ මිනිස්සු කතා වුනා. කතා වෙලා කාලාමවරු භාග්‍යවතුන් වහන්සේ ළඟට පැමිණියා. රංචු රංචු පිටින් එනවා. දැන් අදටත් අද සාමාන්‍ය දේවල්. කේසපුත්තයට ගියාට පස්සෙ ගම්වල කොල්ලො කුරුට්ටො පොඩි එවුන් රංචු රංචු පිටින් එනවා. අන්න මිනිස්සු ගොඩක් ඇවිල්ලා යමල්ලා යමල්ලා මොනවාහරි කන්න ලැබේවි, අතට මුදල් ලැබේවි කියලා රංචු පිටින්, සමහර අය මල් අරගෙන එනවා විකුණලා කීයක් හරි ගන්න. ඒ කාලයේ උතුරු සළුව පොරවාගෙන, සළුපොට ගසාගෙන මිනිස්සු කණ්ඩායම් කණ්ඩායම් විදියට ගංවලින් එක එක පාරෙන් මතුවෙලා භාග්‍යවතුන් වහන්සේ වැඩහිටපු තැනට එනවා. ඊට පස්සෙ සමහර මිනිස්සු බුදුරජාණන් වහන්සේට ආදරෙන් වන්දනා කරලා එක පැත්තක ඉඳගත්තා. සමහර අය කතාබහ කලා අනේ ඔබවහන්සේ කරදරයක් නැතිව වැඩියා නේද කියලා. සමහර අය නිහඬවම පිටිපස්සට වෙලා හිටියා. ඊට පස්සෙ එහෙම හිටපු නියම්ගම් වාසී කාලාමවරු භාග්‍යවතුන් වහන්සේට මෙහෙම කියා හිටියා. ස්වාමීනී මේ කේසපුත්තයට එක එක ශ්‍රමණ බ්‍රාහ්මණවරු එනවා. ඒ කියන්නෙ ඉස්සර ශාස්තෘන් වහන්සේලා, ආගමික නායකයො, පරිබ්‍රාජකවරු එක තැනකම ඉන්නවා කියලා එකක් නෑ. ගමින් ගමට තමන්ගේ මතය කියාගෙන යනවා. ඉතින් මේ ගමටත් එක එක සැම්පලේ කට්ටිය එනවා.

ඊටපස්සෙ මොකද කියන්නෙ, ඒ අය ඇවිල්ලා ස්වාමීනී මහාලොකුවට ලොකු මතයක් කියනවා. හොඳට ලොකුවට රවුම් කරලා කියලා, මොකද කරන්නෙ, කියනවා ඔය අනිත් අය ඇවිල්ලා එක එක ඒවා කියනවා නේද, ඒවා බොරු. උඹලා ඒවා අහන්න එපා, අපි කියන ඒවා තමයි හරි. මේ අපේ බණ විතරක් අහපල්ලා කියලා ඒ කාලෙන් කාලෙට එන තාපසවරු කියනවා. අනිත් අය කියන ඒවා ඔක්කොම වැරදියි, තමන්ගේ මතයමයි හරි කියලා විශ්වාසය ඇතිකරවනවා තමන්ගේ ඒවා ගැන, අනිත් ඒවා ගැන විශ්වාසය නැති කරනවා. හෙලා දකිනවා, බැහැර කරවනවා. පරිභව කරනවා, තමන්ගේ දේ හරි කියලා ඉස්මතු කරනවා. ඉතින් ස්වාමීනී ඕවා අහනකොට අපිට හරි සැකයි මේ අය ඇත්ත කියනවාද, බොරු කියනවාද, කියලා හරි තීරණයකට එන්න බෑ. දැන් ඔය බලන්නකො එකපාරම බුදුන් උපන්නේ ලංකාවේය, ලංකාවේ ඉතිහාසය වැරදියි, මිහිඳු මහරහතන් වහන්සේ වැඩියේ නැතය කියලා මේ එක එක කට්ටිය එක එක දේවල් කියාගෙන යනකොට අහිංසක මිනිස්සු මොකුත් නොදන්න මිනිස්සුන්ගේ ඔළු කැරකිලා යනවා. එහෙත් යනවා, මෙහෙත් යනවා. අතන රහත් වුනා කිව්වොත් මෙහෙ යනවා, මෙතන සෝවාන් වුනා කිව්වොත් මෙහෙ යනවා. අතන බුදු වුනා කිව්වොත් එතන යනවා, මෙතන සිල් වැඩසටහනක් කිව්වොත් එහෙත් එනවා. ඉතින් කැරකි කැරකී රවුමක් දදා මිනිස්සු ඉන්නෙ අද කාලෙත්. ඉතින් බුදුරජාණන් වහන්සේට කියාහිටිනවා ස්වාමීනී අපිට හරි සැකයි මේවා ගැන. විචිකිච්ඡාවයි. කවුද ඇත්ත කියන්නෙ, කවුද බොරු කියන්නෙ කියලා. බුදුරජාණන් වහන්සේ වදාළා සැක කරන්න සුදුසු තැනම තමයි සැකය ඉපදිලා තියෙන්නෙ. ඊළඟට විචිකිච්ඡාව ඇති විය යුතු තැනමයි විචිකිච්ඡාව ඇතිවෙලා තියෙන්නෙ. ඒත තුන්හේ කාලාමා. කාලාමවරුනි එන්න, මා අනුස්සවේන. කටකතාවෙන් ආපු දේවල් ගන්න එපා. දැක්කද. මේක මතක තියාගෙන ඉන්න ඕන. මේ කාලාම වැසියන්ගේ ගමට තාම තුණුරුවන් ගිහිල්ලා නෑ. මේ බුදුරජාණන් වහන්සේ වැඩියාමයි. සංඝයා වැඩියාමයි. එතකොට හා හා පුරා කියලා බුදුබණක් නැති වේද වේදාන්තර බ්‍රාහ්මණ මතවාද සමාජ දෘෂ්ටි තාපස මතවාද රිංගපු සමාජයකට ගිහිල්ලා බුදුරජාණන් වහන්සේ මේ දේශනාව දේශනා කරන්නෙ. මා අනුස්සවේන, කටකතාවෙන් ආවට ගන්න එපා. මා පරම්පරාය, පරම්පරාවෙන් ආපු දේවල් ගන්න එපා. ආපු පමණින් ගන්න එපා. මා ඉතිකිරාය, මෙහෙමයි වුනේ, මෙහෙමයි වුනේ කියලා කරුණු ගොනු කරලා කියන දේවල් තියෙනවානෙ, එහෙම වූ පමණින් ගන්න එපා. මා පිටක සම්පදානේන, පොත්පත් වලින් ආවා කියලා ගන්න එපා. එතකොට

ඔන්න ඕක තමයි හිස් පුරුෂයො අල්ලලා කිව්වෙ ත්‍රිපිටකයේ තිබ්බත් ගන්න එපා කියලා. දැන් එතකොට මේ කාලාම වැසියන්ට ත්‍රිපිටකයක් තිබ්බද. කාලාම බමුණන්ට බ්‍රාහ්මණ, ඒ ග්‍රාමයේ අයට බ්‍රාහ්මණ වේද පොත්, ඊළඟට එක මන්ත්‍ර පොත් ශාස්ත්‍ර, සංස්කෘත් එක එක දේවල් තිබුනෙ ඒ කාලෙ, එක එක්කෙනාගේ එක එක දේවල්. එතකොට ඒ මිනිස්සුන්ට ත්‍රිපිටකයක් තිබ්බෙ නෑ. මේක හොඳට තේරුම් ගන්න. මේ බුදුරජාණන් වහන්සේ ඉස්සෙල්ලාම වැඩියාමයි ඒ ගමට. ඉතින් මා පිටක සම්පදානේන, පොත්පත් වල පිටකයේ තිබ්බා කියලා ගන්න එපා. එතකොට මේක අද සමහර විට හිස් පුරුෂයෙක් අල්ල ගත්තොත් ත්‍රිපිටකයේ තිබ්බත් ගන්න එපා කියලා කියනවානෙ. ඒක වැරදියි. මේ කිව්වෙ වේද පොත්, බුදුබණ පොදක් නොගිය, බුදු කෙනෙක් නොදැක්ක, රහත්හු නොදැක්ක සමාජයේ තිබ්බ පොත්පත් ගැන මේ කියන්නෙ. මා තක්ක හේතු, තර්ක කර කර කරුණු ගොනු කෙරූ පමණින් මේක හරියි කියලා ගන්න එපා. මා නායහේතු, න්‍යාය තිබ්බා කියලා, ණය පමුණුවලා, කරුණු ගොනු කරලා, අනුමාන කරලා එහෙම ගන්න එපා. මා ආකාරපරිවිතක්කේන, මෙහෙම හිතාගෙන යනකොට මෙහෙමත් හරි මෙහෙමත් හරි කියලා එහෙම ගන්නත් එපා. මා දිට්ඨි නිජ්ජානක්කන්ති, මගේ අදහසට එකඟයි, මා දිට්ඨි නිජ්ජානක්කන්ති, මගේ අදහසට ගැලපෙනවා කියලා ගන්න එපා. ඕවා එහෙනම් අද කාලෙ මිනිස්සුත් ගන්න හැටි අදහස්. මගේ අදහසට ගැලපෙනවා කියලා ගන්නත් එපා. මා බබ්බරූපතාය, මේ අදහස කියන කෙනා ප්‍රභූ කෙනෙක්, සමාජයේ පිළිගත්ත කෙනෙක් කියලා ඒ අදහස ගන්නත් එපා. මා සමණො නොගරො, මේ කියන ශ්‍රමණයා මාගේ ගුරුවරයෙක්ය කියපු පමණින් ගන්නත් එපා. හොඳටම මේක මට මතකයි එක හාමුදුරු නමක් හිටියා, ඒ හාමුදුරුවො මාර්ගඵල ලබලා කියලා. ඉතින් ඒ හාමුදුරුවන්ගේ ගුරු හාමුදුරුවො කිව්වා ඔහේ ලබපු මාර්ගඵලයක් නැතය කියලා. ඊටපස්සෙ මං දන්න කාරණා මේ කියන්නෙ. ඊටපස්සෙ නෑ ගුරුවරයා කිව්වත් ගන්න එපා කියලා ත්‍රිපිටකයේ තියෙන්නේ කියලා ගුරුවරයා බැහැර කරලා තනියෙන් මාර්ග ඵල ලබාගෙන කමටහන් දෙන සමහර විස්තර අපි දන්නවා. එතකොට මේ බුද්ධ දේශනාවෙන් ගත්තේ මොකක්ද. දැක්කද ධර්මය ගන්න විදිය. මේ මාසමණො නොගරු කිව්වෙ මේ බුදුරජාණන් වහන්සේ, ආර්යන් වහන්සේලා, රහතන් වහන්සේලා, කල්‍යාණ මිත්‍රයො ගුරු කරගත්තු සමාජෙකට නෙවෙයි. එක එක ඉන්නවා තාපසයො, නිගණ්ඨයො, පරිබ්‍රාජකයො, ඊළඟට ඒ අය ගුරු කරගෙන ඉන්නෙ මේ අය. පැවිද්දන් ගුරු කරගෙන ඒ කාලෙ. තාපසයන්,

ෂඩ්ශාස්තෘවරු. එතකොට මා සමණො නොගරු, මේ කියන කෙනා මාගේ ගුරුවරයාය කියලා එහෙම ගන්න එපා. මේ කාලාම වැසියන්ට කියන කාරණාව හොඳට තේරුම් ගන්න. එතකොට බුදුරජාණන් වහන්සේ වදාළා පින්වත් කාලාමවරුනි යම්විටෙක, ඉමෙ ධම්මා කුසලා, මේ කියන දේවල් අකුසල්, ඉමේ ධම්මා සාවජ්ජා, මේ මේ දේවල් වැරදි සහගතයි, ඉමේ ධම්මා විඤ්ඤු ගරහිතා, මේ මේ ධර්මයෝ නුවණැත්තන් විසින් ගරහන දේවල් කියලා තේරුණොත් මේ දේවල් සමාදන් වෙලා පුරුදු කලොත් අහිත පිණිස දුක පිණිස පවතිනවා කියලා තේරුණොත්, ඔබට වැටහෙනවා නම් කාලාමවරුනි ඔබ ඒක අත්හරින්න. කල්පනා කරන්න බුදුරජාණන් වහන්සේ වදාළා යම් කරුණක් මනුස්සයෙක් කිව්වට පස්සේ පිළිගන්නකොට ඒක කටකතාවකටවත් පරම්පරාවෙන් ආපු පමණටවත් මෙහෙමයි මෙහෙමයි වුනේ කියන පමණටවත්, පිටක වල තිබ්බ පමණටවත්, තර්කයටවත් න්‍යායටවත්, කරුණු ගොනු කිරීමටවත්, අදහසට ගැලපෙන එකටවත්, ප්‍රභූ කෙනෙක් කිව්ව පළියටවත්, ගුරුවරයෙක් කිව්ව පළියටවත්, ඒ විදියට පිළිගන්න එපා. බලන්න මේ කාරණාව කුසල් ද අකුසල් ද කියලා. බලන්න මේ කාරණාව වැරදි දෙයක්ද හරි දෙයක්ද කියලා. බලන්න මේ කාරණාව පුරුදු කලොත් නුවණැති අය ගරහනවාද කියලා. අහිත පිණිස දුක පිණිස පවතින් දෙයක්ද කියලා. එහෙම අකුසල් නම් අහිත පිණිස දුක පිණිස පවතිනවා නම් කාලාමවරුනි අත්හරින්න ඒක, ඒක එපා පුරුදු කරන්න. මේකෙන් තේරෙන්නැද්ද එහෙනම් යම් අදහසක් හිතට ගන්න, යම් දර්ශනයක්, යම් දැක්මක් පිණිස නුවණක් තියෙන්නෙ ඕන නැද්ද. මේක කරන්නෙ නුවණ තියෙන කෙනෙක්නෙ. ඉතින් නුවණ නැති අය අහන අහන දේවල් වලට කැරකිලා යන අය ඉතින් කැරකිලාම යනවා. කොහොම වළක්වන්නද. පඬරුල්, එහෙම නැත්නම් නිකං මානා ඉලුක් වගේ ගස් සුළඟට වැනීගෙන යනවා. මහා දැවැන්ත මහා දෘඩ වූ ගස් තියෙනවා. ඒවා සුළඟට වැනී යන්නෑ ඍජුව පවතිනවා. එහෙම නැත්නම් ඉන්ද්‍රඛීලයො තියෙනවා, මහා ස්තූපයෝ තියෙනවා, සැලී යන්නෑ, කුමක් නිසාද. සුළඟේ තියෙන වරදක්ද. නෑ, ඒ පඬරුල්ලේ තියෙන, තෘණ වෘක්ෂයේ, මානා ඉලුක් ගසේ තියෙන්නා වූ සවිශක්තිය නැති බවමයි. ආන්න ඒ වගේ තමයි එක එක මතවාද දෘෂ්ටි එද්දි මේ සමාජයම ඒවට කැරකීගෙන යන්නෙ ඒක දෘෂ්ටියේ තියෙන දේටත් වඩා අර මිනිස්සුන්ගේ තියෙන ශක්තිමත් නැති බව, නුවණේ ප්‍රශ්න. කරන්න දෙයක් නෑ, ඊටපස්සෙ බුදුරජාණන් වහන්සේ අහනවා, හරි කාලාමවරුනි, මොකද හිතන්නෙ, මේ හිතේ පවතින්නා වූ ලෝභය, තමන්ට හිතසුව පිණිස

පවතිනවාද, අහිත පිණිස පවතිනවාද මේ ලෝභය. ස්වාමීනී අහිත පිණිස පවතිනවා. කාලාමවරුනි, ලෝභී වූ පුරුෂ පුද්ගලයා ලෝභයට යට වූ සිතින්, ලෝභය වැළඳගත් සිතින් යුතුව බොහෝ කාලයක් අහිත පිණිස දුක් පිණිස පවතිනවා නම් එබඳු වූ ප්‍රාණඝාතය කරනවා, ලෝභය මුල්වෙලා. හොරකම් කරනවා, වැරදි කාමසේවනයේ යෙදෙනවා, බොරු කියනවා, අන් අයත් ඒ දුෂ්චරිතයේම සමාදන් කරනවා, තොපිත් කරපියව් කියලා. ඒ අකුසල් වලට එයාල පෙළඹෙව්වේ හිතේ තියෙන ලෝභය. කාලාමවරුනි කුමක්ද හිතන්නෙ. පුරුෂයාගේ හිත තුළ උපදින ද්වේෂය ඔහුට හිත පිණිස පවතිනවාද, අහිත පිණිස පවතිනවාද, ස්වාමීනී තරහ කියන එක කොච්චර අහිත පිණිස පවතිනවාද. දැන් බලන්න ලෝභ ද්වේෂ මෝහ තමාට අහිත පිණිස පවතිනවා කියලා තේරුම් ගන්න නුවණක් මනුස්සයෙකුට එපැයි. දැක්කද බුද්ධ කාලෙ ඉපදෙන අයගෙ. ගමක කෙනෙක්ගෙන් මේක ඇහුවා නම්, ඔබ ගමක ඕන නෑ නගරයේ වුනත් කොළඹ හතේ වුනත් මේක ඇහුවා නම් මේකට උත්තර දීගන්න බෑ. එහෙම මිනිස්සු ඉන්නෙ. ඕන තරම් සුද්දන්ගේ පොත පතින් ඥාණය කියයි, කුසල් අකුසල්. බුදු ගුණ නවය දන්නැති මහාචාර්‍යවරු ඉන්නවා. ඒ නිසා ලෝභ, ද්වේෂ, මෝහ සමහර විට අයහපත පිණිස පවතිනවා. දැන් ටියුෂන් කරන සර්ලා රාගයටම කරුණු කියනවානෙ. රාගය අයහපත පිණිස පවතිනවා කියන දැක්ම ඔවුන්ට නෑනෙ. ගැහුවොත් ගහපං, බැන්නොත් බැනපං කියන තැනට ශිෂ්‍යයා හුරු කරනවානෙ. ද්වේෂය අයහපත පිණිස පවතිනවා කියන දැක්ම නෑනෙ. කුසල් අකුසල් පිළිබඳව දැක්ම නෑ නමුත් උපාධි තියෙනවා මිටි ගණන්. අපිට ඕන එහෙම එකක් නෙවෙයි. ගමේ කිරි විකුණන අම්මා වුනත්, උදැල්ල කරේ තියාගෙන අමුඩෙ ගහලා කුඹුරට බහින ගොවියා වුනත් මේක හොඳයි මේක නරකයි කියලා තේරෙනවා නම් ඔහු වටිනවා මැණිකක් වගේ. ඒ අය වෙනුවෙන් බුදුවරු පහළ වෙනවා. ඒ අය වෙනුවෙන් බුදුරජාණන් වහන්සේගේ ධර්මය තියෙනවා. දැන් මේ කාලාම වැසියන්ගේ නුවණ බලන්න. මොවුන්ට ඕන වුන ශාස්තෘන් වහන්සේ දැන් ළඟට ඇවිල්ලා. කාලාමවරුනි, තරහ යහපත පිණිස පවතිනවාද, අයහපත පිණිස පවතිනවාද. ස්වාමීනී අයහපත පිණිස. ඒ දැක්ම තියෙනවා. දැන් මේ අයට තරහ යන්නැති අයද. තරහායනවා. තරහා ගියාට දැක්මක් තියෙනවා හොඳ නෑ. ලෝභය රාගය එයාලට එනවා. නමුත් ලෝභය රාගය ආවට එයාලට දැක්මක් තියෙනවා මේක හොඳ නෑ කියලා. ඊටපස්සෙ කියනවා කාලාමවරුනි, ද්වේෂයෙන් යටවූ සිතින් යුතු මිනිස්සු බොහෝ කල් අයහපත පිණිස පවතින ප්‍රාණඝාතය කරනවා.

සොරකම කරනවා, වැරදි කාමසේවනය කරනවා, ඊළඟට බොරු කියනවා, මේ විදියේ නොයෙක් වූ දුෂ්චරිතයන්හි අනිත් අයත් සමාදන් කරවනවා, තොපිත් කරපියව් කියලා. කාලාමවරුනි කුමක්ද හිතන්නෙ, මෝහය තමාට යහපත පිණිස පවතිනවාද, අයහපත පිණිස පවතිනවාද. ස්වාමීනී මෝහය අයපහත පිණිස පවතිනවා. මෝහයෙන් යුතු කෙනා බොහෝ පව් රැස් කරගන්නවා ප්‍රාණඝාතයෙන්, සොරකමින්, වැරදි කාම සේවනයෙන්, බොරු කීමෙන්, අන් අයත් ඒවගේ සමාදන් කරවනවා. පින්වත් කාලාමවරුනි, ඔය කියපු දේවල් ඒ කියන්නෙ ලෝභ, ද්වේෂ, මෝහ කුසල් ද, අකුසල් ද. ස්වාමීනී අකුසල්. කාලාමවරුනි, ඔය කියපු ලෝභ, ද්වේෂ, මෝහ හරි දේවල් ද වැරදි දේවල්ද. ස්වාමීනී වැරදි දේවල්. ඔය කියන ලෝභ ද්වේෂ මෝහ වලින් යටවීම සත්පුරුෂයො ප්‍රශංසා කරන දෙයක් ද, ගරහන දෙයක්ද. ස්වාමීනී ගරහන දෙයක්. ඔය දේවල් සමාදන් වෙලා පුරුදු කලොත් අහිත පිණිස දුක පිණිස පවතිනවාද, එහෙමද නැද්ද. ස්වාමීනී ලෝභය පුරුදු කලොත් ද්වේෂය පුරුදු කලොත් මෝහය පුරුදු කලොත් බොහෝ කාලයක් අහිත පිණිස දුක පිණිස පවතිනවා. එහෙම තමයි ස්වාමීනී අපිට නම් හිතෙන්නෙ කිව්වා. කොහොමද නුවණ ඒ කේසපුත්තයෙ, ඒ ගමට වදින්න ඕන ගිහිල්ලා. ඉතින් කාලාමවරුනි දැන් ඔය අකුසල් ගැන යමක් පැවසුවා නේද. පින්වත් කාලාමවරුනි ඔබ එන්න, බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා, දැන් මං අකුසල් ගැන කියලා දුන්නානෙ. මා අනුස්සාවෙන, කටකතාවෙන් ආවට ගන්න එපා. මා පරම්පරාය, පරම්පරාවෙන් ආවට ගන්න එපා. මෙහෙමයි මෙහෙමයි කිව්ව පමණින් ගන්න එපා. පොත පතේ තිබ්බා කියලා ගන්න එපා. තර්කයට ගැලපුනා කියලා ගන්න එපා. න්‍යායට අනුව ගැලපුන පමණින් ගන්න එපා. මේ මේ ආකාරයෙන් කියලා කරුණු ගොනු කරලා ගන්න එපා. දිට්ඨිනිජ්ඣානක්කන්ති, මගේ අදහසට ගැලපෙනවා කිව්ව පමණින් ගන්න එපා. මා බබ්බරූපතාය, මේක කිව්වෙ ප්‍රභූවරයෙක් කියලා ගන්න එපා. මා සමණො නොගරු, මේ කිව්ව කාරණාව මාගේ ගුරුවරයාය කිව්වෙ කියපු පමණින් ඔබ ගන්න එපා. කාලාමවරුනි, නුඹලාට හිතෙනවා නම් මේක අකුසල්, මේක වැරදියි, මේක නුවණැත්තො ගරහන දෙයක්, මේක සමාදන් වුනොත් දුක් පිණිස, අහිත පිණිස පවතිනවා කියලා ආන්න ඒ කරුණ පජෙහියාය, මේක දුරු කරලා දාන්න. අත්හරින්න. කියලා මම ඔන්න ඕක තමයි තේරුම් කරලා කිව්වෙ. දැන් ඔබටම තේරෙනවානෙ කුසල් අකුසල්. එතකොට කුසල් අකුසල් තේරුම් අරන් කරන්න කටකතාවෙන් එන්න ඕන නෑ ඒක. තමන්ට තේරෙන්න ඕන. මෙහෙමයි

මෙහෙමයි කියලා කරුණු ගොනු කරලා ඔලුවට එන්න ඕන නෑ, තමන්ට තේරෙන්න ඕන. එතකොට දැන් ඔය ක්‍රමයට බලලා, බලන්න, දැන් ඔය එක එක රැලි තියෙනවානෙ ලංකාවෙ ඉතිහාසය වැරදියි කියලා හෝ ලංකාවෙ බුදුන් උපන්නේ කියලා හෝ මම රහත් කියලා හෝ මම සෝවාන් කියලා හෝ එනවා එක එක දේවල් තියෙනවානෙ. බලන්න, ඒවගෙන් ලෝභ ද්වේෂ මෝහ ප්‍රහාණය වෙනවාද. තමන්ගේ ලෝභ ද්වේෂ මෝහ ඇතිවෙනවාද. ඒ කරුණු මුල් කරගෙන තමන්ට පඤ්චසීලය රැකෙන පරිසරයක් හැදෙනවාද. ඊළඟට මේ තියෙන දේවල් වැළඳගත්තොත් සත්පුරුෂයන්ගේ ප්‍රශංසාවට තමන් ලක්වෙනවාද, නින්දාවට ලක්වෙනවාද. මේවා බලන්න. අපේ හිතේ පැහැදීම ඇතිවෙනවාද, තියෙන පැහැදීම නැතිවෙනවාද, ඔළුවේ අලකලංචි වැඩිවෙනවාද, නිදහස් වීගෙන යනවාද, පොඩ්ඩක් බලන්න, යමක් එකපාරම ගෙඩිය පිටින් ගිලින් නැතිව. බලන්න කොච්චර බුදුරජාණන් වහන්සේ චින්තන නිදහසක්, සිතීමේ නිදහස දීලා තියෙනවාද, මේ බුද්ධ ශාසනේ කවුරුවත් වටකරලා හිර කරලා නෑ, මේ බුද්ධ ශාසනේ තියෙන්නෙ එක සීමාවක් තියෙනවා, ඒ තමයි තමන්ගේ ක්‍රියා කලාපයට සීමාවක් තියෙනවා. ඒකට කියන්නෙ සීලය කියලා. ඊළඟට තමන් හිතන දේවල් වලට සීමාවක් තියෙනවා. ඒ සීමාව තමයි ශ්‍රද්ධාව. හැම හිතන දෙයක්ම ශ්‍රද්ධාවේ වදින්න ඕන. කියන්නෙ බුදුරජාණන් වහන්සේ වදාළ දෙයක් සමඟ මුහුවෙන්න ඕන. මේ බුද්ධ ශාසනයේ චින්තනය කියලා කියන්නෙ ඒක. ඊටපස්සේ බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා කාලාමවරුනි, එන්න කටකතාවෙන් නෙවෙයි, පරම්පරාවෙන් නෙවෙයි, මෙහෙම මෙහෙම කිව්වා කියලා නෙවෙයි, පොතපතේ තිබ්බ පමණින් නෙවෙයි, තර්කය මුල් කරගෙන නෙවෙයි, න්‍යාය මුල් කරගෙන නෙවෙයි, කරුණු ගොනු කරලා නෙවෙයි, තමාගේ අදහසට ගැලපුන පමණින් නෙවෙයි, ප්‍රභූන් කියූ පමණින් නෙවෙයි, තමන්ගෙ පරම්පරා ගුරුවරු කියපු පමණින් නෙවෙයි, කාලාමවරුනි, ඔබම හිතන්න, පුරුෂයාගේ හිත තුළ අලෝභය ඉපදුනොත්, ඒක එයාට හිත පිණිස ද පවතින්නෙ, අහිත පිණිස ද පවතින්නෙ. ලෝභ නැති කෙනෙක්. ස්වාමීනී හිතසුව පිණිස පවතිනවා. පින්වත් කාලාමවරුනි, අලෝභී වූ පුරුෂ පුද්ගලයා බොහෝ කුසල් රැස් කරගන්නවා සත්තු නොමරා ඉඳලා, අලෝභය නිසා. හොරකම් කරන් නෑ, හිතේ ලෝභය නැත්නම් මොකටද හොරකම් කරන්නෙ. මොකටද වැරදි කාමසේවනය කරන්නෙ, මොකටද බොරු කියන්නෙ. අන් අයත් සමාදන් කරවනවා අකුසල් කරන්න එපා කියලා. සුචරිතය පුරුදු කරවනවා. ඉතින් කාලාමවරුනි මොකක්ද

හිතන්නෙ, අද්වේෂය, තරහ හිතේ නැත්නම් ඒක හොඳයි ද, අයහපතක්ද. අනේ ස්වාමීනී කොච්චර හොඳද. ඉතින් හිතසුව පිණිස පවතිනවාද, අහිත පිණිස පවතිනවාද. හිතසුව පිණිස පවතිනවා. කාලාමවරුනි, දුෂ්ට නොවූ පුරුෂ පුද්ගලයා ද්වේෂයෙන් යට නොවූ සිතින් ද්වේෂය නොවැළඳගත් සිතින් යම් දෙයක් ඔහුට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා නම් එවැනි කුසල් කරනවා, තරහා නැති කෙනා කොහොම නම් ප්‍රාණඝාතය කරන්නද. තරහ සිත් නැති කෙනෙක් කොහොම නම් සොරකම් කරන්නද. තරහ සිත් නැති කෙනෙක් කොහොම නම් අනුන්ගේ බිරින්දෑවරුන් ඩැහැගන්නද. තරහ සිත් නැති කෙනා කොහොම නම් බොරු කියන්නද. අන් අයත් යහපතේ සමාදන් කරවනවා. කාලාමවරුනි, හිතෙන්නෙ කොහාමද මෝහය දුරු කරපු බව, අමෝහය සත්ත්වයාට හිතසුව පිණිස පවතිනවාද, අහිත පිණිස පවතිනවාද. ස්වාමීනී හිතසුව පිණිස පවතිනවා. එහෙනම් කාලාමවරුනි, මෝහය දුරු කරපු කෙනා මෝහය දුරු කරන ලද සිතින් යුතුව බොහෝ කුසල් රැස් කරගන්නවා, මොකක්ද සත්තු මරන් නෑ හොරකම් කරන් නෑ, වැරදි කාමසේවනය කරන් නෑ. බොරු කියන් නෑ, අන්අයත් කුසලයේ සමාදන් කරවනවා. ඉතින් කාලාමවරුනි මේ විදියට නම් තියෙන්නේ මොකක්ද ඔබට හිතන්නෙ. මේ අලෝභ අද්වේෂ අමෝහ කියන දේවල් කුසල් ද අකුසල් ද. ස්වාමීනී කුසල්. වැරදි දේවල් ද හරි දේවල්ද. ස්වාමීනී හරි දේවල්. එයින් නුවණැත්තො ගරහන දේවල්ද, ප්‍රශංසා කරන දේවල්ද. ප්‍රශංසා කරන දේවල්. මේවා පුරුදු කලොත් දුක අහිත පිණිස පවතිනවාද, නැද්ද. ස්වාමීනී යහපත පිණිස පවතිනවා. සැපය පිණිස පවතිනවා. නුවණැත්තො ගරහනවාද නැද්ද, අනේ නුවණැත්තො ගරහන් නෑ මේවට. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ආන්න ඒකයි කාලාමවරුනි මං කිව්වෙ කුසල් අකුසල් විමසන්න කියලා. එහෙම නැත්නම් කටකතාවෙන් ආපු පමණටවත් පරම්පරාවෙන් ආපු පමණටවත්, කරුණු ගැලපුන පමණටවත් එහෙම නෙවෙයි දර්ශනයක්, ජීවිතයේ ආගමක් තෝරගන්නෙ කියලා. දැන් ඔබ තෝරගත්ත දහම බලන්න. එතකොට මේකෙන් තේරෙනවා බුදුරජාණන් වහන්සේගේ ශාසනය කියන එක කෙනෙක්ගේ ජීවිතෙත් එක්ක බද්ධ වෙන්නෙ කටකතාවට නෙවෙයි. පරම්පරාවටත් නෙවෙයි. දැන් කිසිම තිසරණයක් නැති අය ඉන්නවානෙ පරම්පරාවෙන් බෞද්ධ. නමුත් බුද්ධ ශාසනයත් එක්ක ඔවුන් එකතු නෑ, ඒ නිසා තමන්ම කුසල් අකුසල් වෙන් කරගෙන ශාසනෙත් එක්ක එකතු වෙන්න ඕන. ඉතින් බුදුරජාණන් වහන්සේ දේශනා කරනවා ඔන්න ඔය විදියට කුසල්

අකුසල් තේරුම් අරන්, අකුසල් බැහැර කරමින් කුසල් පුරුදු කරමින් ඉන්න කෙනා මෛත්‍රී සිත පුරුදු කරනවා. උඩ යට සරසට දස දිශාවට හොඳට මෛත්‍රිය පුරුදු කරනවා, කරුණාව පුරුදු කරනවා, මුදිතාව පුරුදු කරනවා, උපෙක්ෂාව පුරුදු කරනවා, ඉතින් කාලාමවරුනි, මේ විදියට ඒ ආර්ය ශ්‍රාවකයා අවෛරී සිතින් යුතුව නිදුක් සිතින් යුතුව, කිලිටි නැති සිතින් යුතුව වටිනා ජීවිතයකින් යුතුව, සැනසිලිදායක ජීවිතයක් ඇතිකරගන්නවා. එයාට අස්වැසිලි හතරක් තියෙනවා. ඒ තමයි මේ විදියට ජීවිතය ගතකලොත් යම් හෙයකින් පරලොවක් තියෙනවා නම්, දැන් මොකද එතන තාපසයො කියනවානෙ කට්ටියක් කියනවා පරලෝකයක් තියෙනවා කියලා, කට්ටියක් කියනවා පරලෝකයක් නෑ කියලා. කට්ටියක් කියනවා පින් පව් තියෙනවා කියලා. කට්ටියක් කියනවා පින් පව් නෑ කියලා. කට්ටියක් කියනවා කර්මය කරගහගෙන යන්න ඕන කියලා. කට්ටියක් කියනවා එහෙම කර්මයක් කරගහගෙන යාමනාවක් නෑ කියලා. දැන් එක එක අය ඇවිල්ලා කියනවානෙ. බුදුරජාණන් වහන්සේ වදාළා මෙන්න මේ ක්‍රමයට ධර්මය පුරුදු කලොත් ඒ කෙනාට පරලොවක් තියෙනවා නම් එයාටම තේරෙනවා මම හොඳ දේවල් කරන නිසා මැරුණට පස්සෙ නරක තැනකට යන්නෑ කියලා හරී සැනසිල්ලක් එනවා. යම් එයාට හිතෙනවා නම් එයා අහලා තියෙන්නෙ එයාට හිතෙන්නෙ පරලොවක් නෑ කියලා නම් හොඳ දේවල් පුරුදු කරන නිසා පරලො ගමන කෙසේවෙතත් මේ ජීවිතේ සැනසිල්ලේ ඉන්නවා අර්බුදයක් නැතිව. ඔය දෙවෙනි අස්වැසිල්ල. තුන්වෙනි එක තමයි පව් කරන කෙනාට තමයි පව් වල විපාක විඳින්න තියෙන්නේ කියලා කිසිවෙක් ඉන්නවා පව් කරන්නැතිව. ඉතින් මෙයා කල්පනා කරනවා පව් කරන කෙනාටයි පරලොව විපාක විඳින්න තියෙන්නේ කියන එක හරි නම්, කොහොමටත් මම පව් කරන් නෑනෙ. ඒ නිසා පරලොව මට බයක් නෑ, යම්කිසි කෙනෙක් කියනවා නම් පව් කරන කෙනාට පරලොව විපාක විඳින්න නෑ කියලා ඉතින් කොහොමටත් මං මේ ජීවිතේ පව් කරන්නැති නිසා මේ ජීවිතේ සැනසිල්ලෙ ඉන්නවා. ඉතින් ඔය විදියට අස්වැසිල්ලෙන් ඉන්න පුලුවන් කිව්වා. ඉතින් බුදුරජාණන් වහන්සේ මෙහෙම දේශනා කරනකොට කාලාමවරු කියනවා, ඒවමේතං භන්තෙ, ඒවමෙතං සුගත. ඕක ඔය ආකාරයෙන්මයි ස්වාමීනී, ඕක ඔය ආකාරයෙන්මයි සුගතයන් වහන්ස. ඔය විදියට ඉන්නවා නම් ඒ කියන්නෙ පරම්පරාව, කටකතා, ඕවා නැතිව මේ කුසල් මේ අකුසල් කියලා තේරුම් අරන් කුසල් පුරුදු කරමින් අකුසල් බැහැර කරමින් ඉන්නවා නම් එයාට පරලෝකයක් තිබ්බත් බය නෑ, පරලෝකයක් නැතත් බය නෑ, කරන පව් කරගහගෙන යනවා

කිව්වත් බය නෑ, කරන පව් පරලෝකෙට එන් නෑ කිව්වත් බය නෑ, මොකද මේ ජීවිතේ හොඳින් ඉන්නවා. ඉතින් මෙහෙම, ඒ මිනිස්සුම කියනවා. මෙහෙම කියලා, අභික්කන්තං භන්තෙ, අභික්කන්තං භන්තෙ, ස්වාමීනී සුන්දරයි නෙව, සුන්දරයි නෙව මේ උතුම් බණ පද ටික. අපේ ජීවිත යටට හැරවිලා තිබ්බ ජීවිත උඩට හැරෙව්වා වගෙයි. අඳුරේ ගිය අපිට පහනක් දැල්වූවා වගෙයි ඇස් ඇත්තන්ට රූප දකින්න. වැහිලා තිබ්බ දෙයක් ඇරලා පෙන්නුවා වගේ. භාග්‍යවතුන් වහන්සේ නොයෙක් ආකාරයෙන් අපිට ධර්මය දේශනා කලා. අපි හරියට පැහැදුනා. ස්වාමීනී මේ කේසපුත්තයේ කාලාම වැසියො අපි, දිවිහිමියෙන් බුදුරජාණන් වහන්සේ සරණ යනවා. ධර්මය සරණ යනවා, සංඝරත්නය සරණ යනවා. දිවිහිමියෙන් තෙරුවන් සරණ ගිය ශ්‍රාවකයන් විදියට අපිව සළකන සේක්වා කියලා භාග්‍යවතුන් වහන්සේගේ පාද පද්මයෝ සිරසින් වන්දනා කරගත්තා, කාලාම වැසියො. ඒ ආර්ය ශ්‍රාවකයන් සහිත කාලාම වැසියන් වාසය කරපු කේසපුත්තය අද වල් බිහිවෙලා කැලේට ගිය ජනපදයක් වෙලා. භාග්‍යවතුන් වහන්සේ වැඩියා කියන කාරණාවට සාක්ෂි පිණිස ආකාසෙට එසවුන මහා පර්වතයක් වගේ කේසාරියා මහා ස්තූපය තියෙනවා අද. පිරිනිවන් වඩින ගමනේ බුදුරජාණන් වහන්සේ පැන් වැළඳූ පාත්‍රයක් ඒ ස්තූපය ඇතුලේ තැන්පත්ව තිබෙනවා. ප්‍රතිමා සිය දහස් ගණනකින් බබළන ප්‍රතිමා ගෘහ වලින්ම සැරසුනු ස්තූපයක්. අදටත් ප්‍රතිමා මතුවෙනවා. මේ තමයි ඉතින් කේසපුත්තයේ කතාව. කාලාම වැසියන්ගේ කතාව ඒක. ඉතින් ඒ නිසා මං මේ කාරණාව කියන්න හේතුව තමයි කාලෙන් කාලෙට එක එක අදහස් මතවාද දෘෂ්ටි ජාලා මේ සමාජයේ හටගන්නවා. හටගනිද්දි බලන්න මේ කුසල්ද, මේ අකුසල්ද. මේ තුළින් පඤ්චසීලයේ ආරක්ෂාවට අනුබලයක් ලැබෙනවාද නැද්ද කියලා. එහෙම බලලා ජීවිතේ තේරුම් ගන්න. ගෙඩි පිටින් ගිලින්න එපා. දෘෂ්ටි මතවාද වලට බැඳෙන්න යන්න එපා. අවසානෙ කරපු කෙනෙක් නැති වුනාට කර්මය අපිට කරගහගන්න වෙනවා. අපිට මෙච්චර ගොඩක් හිතන්න නෑ පින්වතුනි. මා ඉතිකිරාය, මා බබ්බරූපතාය, අපිට ඔච්චර ඔය දේවල් හිතන්න නෑ, අපිට හිතන්න තියෙන්නෙ බුදුරජාණන් වහන්සේ සියල්ල අවබෝධ කලා. දන්නවා දකිනවා, මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා. ඉතින් අපේ දෙමව්පියන්ට අපි පැහැදුනා නම්, අපේ ගුරුවරුන්ට පැහැදුනා නම් අපි ඒ අයගේ වංහුං හොයන්න අපිට උවමනාවක් නෑ, අපි සරණ ගිහිල්ලා. එතකොට බුදුරජාණන් වහන්සේගේ ජීවිතයේ අපිට ඇදකුදයක් කොහෙවත් පේන් නෑ, සරණ ගියා. එතකොට ධර්මය සරණ ගියා නම් ධර්මයේ

ඇදකුදයක් කොහෙවත් නෑ. සරණ ගියා. බුදුරජාණන් වහන්සේගේ ධර්මයේ හොයන්න දේවල් නෑ, බුදුරජාණන් වහන්සේගේ ධර්මයේ පරම්පරාවෙන් ආපු එකක් නෙවෙයි, බුද්ධ වචනය. දැන් මෙතන අපි ගත්තොත් එහෙම මා ඉතිකිරාය, මා බබ්බරූපතාය කියලා වචනයක් තියෙනවානෙ, ඒ වචනෙ බුදුරජාණන් වහන්සේගෙ. එතකොට බුදුරජාණන් වහන්සේට ඒ වචන ටික පරම්පරාවෙන් ආවෙ නෑ, ස්වයංභූත් ඥාණයෙන් අවබෝධ කරපු එකක්. කුසල් අකුසල් කියන එක මා පිටක සම්පදාය, ඒ වචනෙ බුදුරජාණන් වහන්සේගෙන් අපිට ලැබිච්ච දෙයක් මිසක් මේක බුදුරජාණන් වහන්සේ පොතකින් හොයාගත්ත එකක් නෙවෙයි. එතකොට බුදුරජාණන් වහන්සේ කුසල් අකුසල් ගැන නිවන් මාර්ගය ගැන දේශනා කරපු එක බුදුරජාණන් වහන්සේ ගුරුවරයෙක්ගෙන් ඉගෙන ගත්තු එකක් නෙවෙයි, ස්වයංභූත් ඥාණයෙන් අවබෝධ කරපු එකක්. බුදුරජාණන් වහන්සේ අවබෝධ කරපු ධර්මය, බුදුරජාණන් වහන්සේ තර්ක කරලා අවබෝධ කරපු එකක් නෙවෙයි. න්‍යායයෙන් ගලපලා තර්කයට අදහසට ගැලපෙන විදියට අවබෝධ කරපු එකක් නෙවෙයි. ස්වයංභූත් ඥාණයෙන් සාරාසංඛෙය්‍ය කල්ප ලක්ෂයකුත් කල්පයක් පාරමී ධර්මයන් පුරලා දසමාර සේනා පරාජයට පත්කරලා වජිරාසනය මත වැඩ හිඳ සව්කෙලෙසුන් නසා අවබෝධ කරපු ධර්මයයි. ඒ නිසා බුදු කෙනෙක්ගේ ධර්මයට මා අනුස්සවෙන, මා පරම්පරාය, මා පිටක සම්පදාය කියන ටික ඒ බුදු කෙනෙක්ගේ ධර්මයට අදාල නැත. මේ කරුණු කිව්වෙ කේසපුත්තකයන්ට. කේසපුත්තයන්ට ෂඩ්ශාස්තෘවරු එක එක ඇවිල්ලා විෂබීජ ඔළුවට දාලා. ඒ නිසා සූත්‍රයක අර්ථය වුනත් තෙරුම් ගන්න දක්ෂ වෙන්න ඕන. සූත්‍රයක, දහම් කරුණක අර්ථය තේරුම් ගන්න තමන් දක්ෂ වෙන්න ඕන. ඒ නිසා අපිට ගොඩාක් දේවල් හිතන්න නෑ, අපිට මේ උතුම් ශ්‍රී සද්ධර්මය වැළඳගන්න තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ සරණ යන්න තියෙන්නෙ, ධර්මය සරණ යන්න තියෙන්නෙ, සංඝරත්නය සරණ යන්න තියෙන්නෙ, ආයෙ මේක වැරදි ද හරි ද කියලා අල්පමාත්‍රයක් හිතන්න දෙයක් නෑ බුදු බණ පදයක. එක එක්කෙනාගෙ දෘෂ්ටි මතවාද තමයි අපි බේරුම් කරගන්න ඕන. බුදු කෙනෙක්ගේ වචනයක් භාග්‍යවතුන් වහන්සේ මෙසේ වදාළා කියලා කරුණු සහිතව ඒ ධර්ම දේශනාවෙන් ඉස්මතු කලොත් එහෙම අපි ඒ කරුණ ශ්‍රාවකයන් විදියට දරාගන්න ඕන. අපිට මුළු ත්‍රිපිටකයේම මතක තිබ්බත් නැතත්, මුළු ත්‍රිපිටකයේම කටපාඩම් තිබ්බත්, නැතත්, අපිට බණ කියන්න පුලුවන් වුනත්, නැතත්, ත්‍රිපිටකයම කියවලා තිබ්බත් නැතත්, අපිට

කරන්න තියෙන දේ තමයි ලෝභය දුරු කරන එක, ද්වේෂය දුරු කරන එක, මෝහය දුරු කරන එක. ත්‍රිපිටකධාරී එක්කෙනාත් ඕක කරන්න ඕන, එක බණ පදයක් අහපු කෙනත් ඕක කරන්න ඕන. ඒ නිසා අපි කරුණු කාරණා මේ ශාසන ප්‍රතිපදාව කියන එක මනාව තේරුම් ගන්න දක්ෂ වෙන්න ඕන. එතකොට හොඳට මේ දේශනාව අධ්‍යයනය කරගෙන යද්දි ශ්‍රද්ධාවෙන් කියවද්දි පැහැදිලිවම තේරෙනවා බුදුරජාණන් වහන්සේ සරණ යන්නම ඕන. ධර්මය සරණ යන්නම ඕන. තෙරුවන් සරණ ගියෙනැතිව මේවා කියවන එකෙන් තමයි මා සමණො, ගුරුවරයා කිව්වත් ගන්න එපා, ඒ නිසා අපිට ධර්මය උගන්වන ගුරුවරයා කියන දේ අපි එහෙම ගන්නෑ, මා පිටක සම්පදාය, ත්‍රිපිටකයේ තිබ්බත් ගන්න එපා කියලා ගන්නෙ බුද්ධ වචනයට කොච්චර අගෞරවයක්ද එතකොට කරන්නෙ. එතකොට බුදුරජාණන් වහන්සේ කියපු පරිසරය ඔහුට හිතේ නැනෙ. කේසපුත්තයේ කාලාමවරු කියනවානෙ ස්වාමීනී එක එක්කෙනා ඇවිල්ලා එක එක දේවල් අපේ ඔලුවට දාලා අපේ ඔලු දැන් අවුල් වෙලා තියෙන්නෙ කියලා. විචිකිච්ඡාව සංකාව අපි තුළ බැසගෙන තියෙන්නෙ කියලා. කට්ටියක් මේක හරි, බුදුරජාණන් වහන්සේ වදාළේ නෑ මගේ දහම පිළිගන්න කියලා වදාළේ නෑ. බුදුරජාණන් වහන්සේ වදාළේ නෑ මම කියන බණයි හරි, අජිතකේසකම්බලිගේ බණ වැරදියි, නිගණ්ඨගේ බණ වැරදියි, පකුධකච්චායනගේ බණ වැරදියි, මක්ඛලීගෝසාලගේ බණ වැරදියි, සංජයගේ බණ වැරදියි කියලා බුදුරජාණන් වහන්සේ දේශනා කලේ නෑ. බුදුරජාණන් වහන්සේ කාලාමයන්ට වදාළා ඔහේලා හිතන්නේ ලෝභය හොඳයි ද නරකයි ද. එහෙනම් තේරෙනවා, භාග්‍යවතුන් වහන්සේ ගම් නියම් ගම් සිසාරා ධර්මය දේශනා කරමින්, ලෝභ ද්වේෂ මෝහ ප්‍රහාණය කරන ධර්මයක් දේශනා කලා. අලෝභ අද්වේෂ අමෝහ පුරුදු කරන ධර්මයක් වදාළා. මෙත්තා කරුණු මුදිතා උපෙක්ෂාවෙන් සිත් පිරෙන ධර්මයක් වදාළා. අස්වැසිලි සහිත ධර්මයක් වදාළා. ඒ නිසා මේ ලොකයේ මනුස්සයා මේ විදියට කල්පනා කලොත් එයාගේ හිත කොච්චර මෝරයි ද. එයාගේ චින්තනය කොච්චර වෙනස් වෙයිද. එයා හිතන විදිය කොච්චර වෙනස් වෙයිද. එයාගේ ජීවිතයේ නොත්ත ලාමක ගති කොච්චර දුරු වෙලා යයිද, කොච්චර නුවණක් උපදියිද. ඒ නිසා දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම බුදුරජාණන් වහන්සේම සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු ඒ උතුම් ශ්‍රී සද්ධර්මය මම සරණ යනවා කියලා හිතන්න. දිවි තිබෙනතුරු නිවන් දකින තුරු ආර්ය මහා සංඝරත්නය මම

සරණ යනවා කියලා හිතන්න. මේ උතුම් තිසරණය ඔබගේ ජීවිතය ඒකාන්තයෙන් සුවපත් කරත්වා.

ඉතින් අද දවසේ මේ උතුම් අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන සඳහා දායකත්වය දරන්නේ ඔස්ට්‍රේලියාවේ මෙල්බර්න් නුවර පදිංචි පින්වත් ඉන්ද්‍රාණි හේරත් මහත්මිය විසින්. සියලු දෙවි දේවතාවුන් වහන්සේලා මේ පින් අනුමෝදන් වෙලා මේ සියලු දෙනා ආරක්ෂා කරත්වා. ඒ වගේම මේ සියලු පින් අනුමෝදන් වෙත්වා මියපරලොව ගිය හේරත්බංඩා පියාණන්ට. එතුමාට පරලොව යහපත පිණිස මේ පින් අනුමෝදන් වේවා. පරම පූජනීය ගුරු දේවොත්තම කල්‍යාණමිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ අපිට මේ බණ පදයක් ගානෙ උගන්වලා උන්වහන්සේ අපිට මේ ධර්මවිනය කියලා දුන්නෙ. ඉතින් පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂ සම්පත්තියම සැලසේවා. පින්වත් ලොකු ස්වාමීන් ඇතුලු ගරුතර මහා සංඝරත්නයටත්, අනාගාරිකා මෑණිවරුන්ටත්, පැවිදි අපේක්ෂක දූපුතුන්ටත් මේ පින් බලයෙන් ධර්මාවබෝධයම සැලසේවා. ඒ වගේම සුජීවත්ව සිටින අබිලිං නෝනා මැනියන්ට, ශීනා හේරත් දියණියට, ශෂිනි හේරත් දියණියට නිදුක් නිරෝගී සුවපත් භාවය දීර්ඝායුෂ මේ ගෞතම සසුනේ සැනසිල්ල රැකවරණය සැලසේවා. පවුලේ සියලු දෙනාට සියලු යහපත රැකවරණය, ඉන්ද්‍රාණි හේරත් මහත්මිය ඇතුලු ඒ පවුලේ සියලු දෙනාට සියලුම ආශිර්වාද රැකවරණය මේ පින් බලයෙන් සැලසේවා. ඔබ අප කාටත් ගුරු දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ට ශ්‍රද්ධා රූපවාහිනියෙන්, ලක්විරු ගුවන් විදුලියෙන් ධර්මය ශ්‍රවණය කරන්නා වූ ද ඒ වගේම කාර්ය මණ්ඩලයේ සියලු දෙනාට මේ පින් අනුමෝදන් වේවා. අසිරිමත් සම්බුදු සරණින් සැනසී දුක් කෙළවර කරගන්නට අපි කාටත් මේ පින් හේතු වාසනා වේවා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=KAEsyOLkrp8&list=PLaIyA_suCnHx15brN1U_CvrdIW8GMhnA&index=95

සාදූ සාදූ සාදූ!!!

නමස්කාර වේවා බුදුරුවනට සැමදා බුදු හිමි සරණ යමි

නමස්කාර වේවා දම්රුවනට සැමදා සදහම් සරණ යමි

නමස්කාර වේවා සඟරුවනට සැමදා මහ සඟ සරණ යමි

නමස්කාර වේවා තුණුරුවනට සැමදා තිසරණ සරණ යමි

සාදූ සාදූ සාදූ!!!

අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේට නිදුක් නිරෝගී සුවපත් භාවයත්, දීර්ඝායුෂත් සැලසේවා. සාදූ සාදූ සාදූ!!!

ශ්‍රද්ධාවන්ත පින්වත්නි, අසිරිමත් සම්බුදු සරණ උතුම් දහම් වැඩසටහන තුළින් ඔබ මේ වනවිට බොහෝ කාලයක ඉඳලා අපගේ අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ආනුභාව සම්පන්න, ආශ්චර්යවත් අද්භූත වූ ඒ වගේම දුර්ලභ වූ සම්බුදු ජීවිතය ගැන ඉගෙන ගත්තා. ඉතින් අදත් අපි ඒ වගේ විස්තරයක් ඉගෙන ගන්නෙ. මොරටුවේ පදිංචි පින්වත් විජේවර්ධන පවුලේ දූදරු මිණිබිරියන් සියලු දෙනා එකතු වෙලා අද මේ ධර්ම දානය සිද්ධ කරන්නෙ. භාග්‍යවත් බුදුරජාණන් වහන්සේගේ ඒ අසිරිමත් ශ්‍රී සද්ධර්මය අන් අයට අහන්න සළස්වන පින ඔබට බොහෝ කාලයක් හිතසුව පිණිස පවතිනවා. ඒ

නිසා අද දින ධර්මදානය පිළිබඳව ඔබ පළමුවෙන්ම සන්තෝෂයට පත්වෙන්නට ඕන.ඉතින් පින්වත්නි අද දවසේ අපි ඔබට කියලා දෙන්න කල්පනාකලේ මේ දේශනාවත් බුදුරජාණන් වහන්සේගේ අතීතයේ විස්තරයක් සහ මේ ජීවිතේ විස්තරයකුත් තියෙනවා. මොකද මෙතෙක් ධර්මය ඉගෙන ගෙන ඔබ මේ බුද්ධ ශාසනයේ කොටස් කාරයෙක් වුනාද, බුද්ධ ශාසනයේ පැවැත්වීම පිණිස ඔබගෙන් කොයිවගේ දායකත්වයක් මේ බුද්ධ ශාසනය පිණිස එකතු වෙන්න ඕනද කියන එක අද මේ දේශනාවෙන් ඉගෙන ගන්න පුලුවන්. මේ දේශනාවෙ නම මඛාදේව සූත්‍රය. මඛාදේව රජතුමා ගැන තමයි මේ විස්තරයේ තියෙන්නෙ. බුදුරජාණන් වහන්සේ ඒ කාලයේ මිථිලා නුවර මඛාදේව කියන අඹ වනයේ වැඩ සිටියා. එතකොට භාග්‍යවත් අර්හත් අපගේ ශාස්තෘ බුදුරජාණන් වහන්සේගේ කාලයේත් ඒ වනයට කිව්වෙ මඛාදේව වනය. එදා භාග්‍යවතුන් වහන්සේ එක්තරා ස්ථානයකදී සිනහවක් පහළ කලා. බුදුවරු නිකරුණේ සිනහ පහළ කරන් නෑ, බුදුරජාණන් වහන්සේගේ බුදු මුවින් සිනහවක් පහළ වුනොත් ශ්‍රීමත් ශ්‍රී දන්ත ධාතූන් වහන්සේලා බාහිරට පෙනුනොත් සුදෝ සුදුවන් වූ රශ්මි ධාරාවක් විහිදිලා සිරස වටා තුන් වතාවක් පැදකුණු කරලා නැවතත් දන්ත ධාතූන් වහන්සේලා සමගම එකතු වෙනවා. ඉතින් පිටිපස්සෙන් වැඩියත් ආනන්ද ස්වාමීන් වහන්සේ ඒ කරුණෙන් දැනගන්නවා තථාගතයන් වහන්සේ සිනහවක් පහළ කලාකියලා. ඉතින් ආනන්ද ස්වාමීන් වහන්සේ භාග්‍යවතුන් වහන්සේගෙන් අහනවා ස්වාමීනී භාග්‍යවතුන් වහන්ස සිනහවක් පහළ කරන්න කාරණාව කුමක්ද, හේතුව මොකක්ද. තථාගතයන් වහන්සේලා හේතුවක් නැතිව සිනහ පහළ කරන් නෑ. ආනන්ද ස්වාමීන් වහන්සේ ඒ විදියට භාග්‍යවතුන් වහන්සේට වන්දනා කරලා කියා හිටිනකොට බුදුරජාණන් වහන්සේ මේ අතීතයේ වෙච්චි සිද්ධිය ඒ මොහොතේ තමයි වදාළේ. බුදුරජාණන් වහන්සේ වදාළා ආනන්ද, අතීතයේ මේ මිථිලා නුවර මඛාදේව කියලා රජ කෙනෙක් හිටියා. මේ රජ්ජුරුවො බොහොම ධාර්මිකයි, ධර්මයෙන් රාජ්‍යය කරනවා. බ්‍රාහ්මණ ගෘහපතියන් කෙරෙහි, නියම් ගම් වැසියන් කෙරෙහි, ජනපදයන් ජනපදවැසියන් කෙරෙහි හරී ධර්මානුකූලයි. හතරපෝයට සිල් ගන්නවා. උපෝසථය සමාදන් වෙනවා. ආනන්ද ඒ මඛාදේව රජු බොහෝ වර්ෂ ගාණක් බොහෝ වර්ෂ සිය ගණනක්, බොහෝ වර්ෂ දහස් ගණනක් ඇවැමෙන් ඒ කාලයේ මිනිස්සුන්ගේ ආයුෂ අවුරුදු 336,000 යි. එතකොට ඒ කාලෙ අවුරුදු දහස් ගණනක් ගියාට පස්සෙ මඛාදේව රජ්ජුරුවො තමන්ගෙ කරණවැමියාට කිව්වා යහළු කරණවැමිය, යම් දවසක මගේ හිසේ

කෙස් ගහක් ඉදිලා තියෙනවා දැක්කොත් එහෙම නුඹ මට ඒක පවසන්න ඕන. ඉතින් බොහෝ කාලයක් ගියාට පස්සෙ අවුරුදු දහස් ගාණක් ගියාට පස්සෙ කරණවෑමියා දැක්කා කෙස් ගහක් පැහිලා තියෙනවා. කොණ්ඩෙ සරසනකොට. රජතුමනි, දේවදූතයෙක් පහළ වෙලා. හිසේ ඉදුනු කෙස් ගහක් පේනවා නෙව. එහෙනම් කරණවෑමිය ඔය අඬුවෙන් බොහොම පරිස්සමින් ඔය කෙස් ගහ උදුරලා මගේ අතට අරන් දියන්. ඉතින් අර කරණවෑමියා කෙස් ගහ උදුරලා අතට අරගෙන දුන්නා. මඛාදේව රජ්ජුරුවො කරණවෑමියාට ගම්වරයක් දීලා තමන්ගේ වැඩිමහල් පුතාට කතා කරලා කිව්වා පුතේ, මට දේවදූතයො පහළ වෙලා. හිසේ කෙස් ගහක් ඉදිලා. මේ කෙස් ඉදෙනවා කියලා කියන්නෙ ඔහුගේ මරණයත් ඉතින් ළඟම එනවා කියන්න පෙරනිමිති. මං මනුස්ස පඤ්චකාමය වින්දා. මං පරලෝකෙට යමක් හොයාගන්න ඕන කියලා මේ රජ්ජුරුවො පුතාට රජකම දීලා තමන් මහණ වෙන්න තීරණය කලා. එතකොට දැන් බලන්න අපේ ජීවිතේ, ඔබගේ ජීවිතේ ඔබගෙත් හිසේ කෙස් පැහෙනවා. හිසේ කෙස් පැහුනට මතක් වෙන්නෑ දේවදූතයෙක් පහළවුනා කියලා. ඔබගේ හිසෙත් කෙස් පැහෙනවා. මං දැන් මේ පඤ්චකාමයම භුක්ති විඳ විඳ ඉන්නවා, පරලෝකෙට මං මොකක්ද ගෙනියන්නෙ කියලා සිතිවිල්ලක්වත් ඇතිවෙන් නෑ. හිසේ කෙස් ගහක් ඉදුනා කියලා පරලොව ගැන හිතලා මහණවෙච්චි කෙනෙක් හොයාගන්න නෑ. ඉතින් ඒ නිසා හිතන්න බලන්න ඒ සත්පුරුෂයන්ගේ ලෝකයේ උත්තම අයගේ ලෝකෙයි දැන් ලෝකෙයි අතර කොයිතරම් නම් වෙනසක් තියෙනවාද. ඊටපස්සෙ මොකද වුනේ, මඛාදේව රජ්ජුරුවො පුතාට රජකම පවරලා පුතාට කිව්වා මම මේ කරපු වැඩේ නුඹත් කරන්න ඕන. නුඹගේත් යම් දවසක හිසේ කෙස් ගහක් පැහුනොත් එහෙම නුඹත් පුතාට, වැඩිමහල් පුතාට රජකම දීලා උඹත් පැවිදි වෙන්න ඕන. පරලෝකයට යමක් හොයාගන්න ඕන. හැබැයි පුතේ මතක තියාගනිං මේ කල්‍යාණ වැඩපිළිවෙලේ අන්තිම පුරුෂයා නම් වෙන්න එපා. මේක දිගටම පවත්වපං. උඹගෙන් තවත් කෙනෙකුට යන්න සළස්වපං. අන්තිමයා නම් වෙන්න එපා, එහෙම කියලා පින්වත් ආනන්ද මඛාදේව රජතුමා කරණවෑමියාට ගම්වරයක් දීලා ජ්‍යෙෂ්ඨ පුත්‍රයාට රජකම පවරලා මං මේ ඉන්න මඛාදේව, මං මේ වැඩ ඉන්න මඛාදේව වනයේම පැවිදි වුනා. පැවිදි වෙලා උඩ යට සතර දිසා, අට දිසා, දස දිසා සියල්ලටම අප්‍රමාණ වූ මෛත්‍රිය පැතිරුවා. කරුණාව පැතිරුවා. මුදිතාව පැතිරුවා, උපෙක්ඛාව පැතිරුවා. මේ විදියට සතර බ්‍රහ්ම විහාර වඩලා කය බිඳිලා මරණින් මත්තේ බ්‍රහ්මලෝකයේ ඉපදුනා. පින්වත්

ආනන්ද, ඔය මඛාදේව රජ්ජුරුවො අවුරුදු අසූදාහක් කුමාර ක්‍රීඩාවේ හිටියා. අවුරුදු අසූහාරදාහක් යුවරජකමේ හිටියා. අසූහාරදාහක් රජකම් කලා. අවුරුදු අසූහාරදාහක් මේ මඛාදේව අඹ වනයේම ගිහි ජීවිතයෙන් නික්මිලා පැවිදි ජීවිතය ගත කලා. කියන්නෙ ඒ කාලෙ රජවරුන්ගේ ජීවිතේ කොටස් හතරකට බෙදිලා, පළවෙනි කොටසේ කුමර අවධියත් දෙවෙනි කොටසේ යුවරජ කමත්, තුන්වෙනි කොටසේ රජකමත්, අවසාන කොටසේ පැවිදි ජීවිතයත් ගතකරලා තියෙන්නෙ. ඊටපස්සෙ පින්වත් ආනන්ද, මඛාදේව රජුගේ පුත්‍රයාද බොහෝ වර්ෂ ගණනක් බොහෝ වර්ෂ සිය ගණනක්, බොහෝ වර්ෂ දහස් ගණනක් ඇවෑමෙන් කරණවෑමියා ඇමතුවා. පුතත් දැන් අවුරුදු දහස් ගාණක් ගියාට පස්සෙ කරණවෑමියාට කිව්වා මගේ හිසේ නරකෙස් ගහක් තිබ්බොත් ඉදිච්ච් කෙස් ගහක් උඹ මට කියන්න ඕන. අවුරුදු දහස් ගාණක් ගියාට පස්සෙ ඒ රජතුමාගෙත් හිසේ කෙස් ගහක් පැහුනා. එතකොට දැන් මේකෙන් තේරෙනවා අවුරුදු අසූහාරදාහක් මඛාදේව රජ්ජුරුවො අඹ වනයේ පැවිදි වෙලා ඉන්නකොට පුතාට රජකමින් අවුරුදු අසූහාරදාහක් ගතවෙනවා. එතකොට මඛාදේව රජ්ජුරුවො නැතිවෙනකොට කළුරිය කරනකොට පුතාගේ කෙස් ගහක් පැහෙන කාලෙ. එතකොට අඹ වනය පැවිදි ඍෂීන් වහන්සේලාගෙන් හිස් වෙන් නෑ. එක්කෙනෙක් චුත වෙනෙකොට අනිත් එක්කෙනා පැවිද්දට එනවා. ඉතින් එයත් පැවිදි වුනා. කරණවෑමියාට ගම්වරයක් දීලා, වැඩිමහල් පුතාට රජකම දීලා. ආනන්ද ඔහුත් සතර බ්‍රහ්ම විහරණ මනාසේ මේ අඹ වනයේම වඩලා, මඛාදේව වනයේම ඔහුත් බ්‍රහ්ම ලෝකෙ ඉපදුනා. ආනන්ද ඔන්න ඔය ක්‍රමයට මඛාදේව රජුගේ පුත්‍රයා අසූහාරදාහක් අවුරුදු කුමාර ක්‍රීඩාවෙන් කල්ගත කරලා, යුවරජ කෙනෙක් වෙලා අසූහාරදාහක් ඉඳලා රජකමේ අසූහාරදාහක් ඉඳලා, පැවිද්දේ අසූහාරදාහක් ඉඳලා ඔහු බ්‍රහ්ම ලෝකෙ ඉපදුනා. ආනන්ද, මඛාදේව රජුගේ දරු මුණුබුරු පරම්පරාව අසූහාරදාහක් දෙනා මේ මඛාදේව අඹ වනයේදීම කෙස් රැවුල් බා කසාවත් පොරවා ගිහිගෙයින් නික්ම අනගාරිකව පැවිදි වුනා. දරුවො අසූහාරදාහක්, පරම්පරා. එතකොට අසූහාරදාහේ ඒවා අසූහාරදාහක් ගණන් හදන්න. එතකොට අවුරුදු තුන්ලක්ෂ තිස්හයදාහේ ඒවාගේ ආයුෂ කල්පනා කරන්න කොච්චර කාලයක් තියෙනවාද කියලා. මේ ඔක්කොම අවුරුදු අසූහාරදාහේ පැවිදි ජීවිත පරම්පරා අසූහාරදාහක්. ඉතින් කියනවා ආනන්ද ඒ සියලු දෙනාම බ්‍රහ්ම ලෝකයේ ඉපදුනා. ආනන්ද ඒ සියලු දෙනාත් අර විදියමයි. අවුරුදු අසූහාරදාහක් කුමාරයෙක් විදියට ඉඳලා, අවුරුදු අසූහාරදාහක් යුවරජකමේ

ඉඳලා, අවුරුදු අසූහාරදාහක් රජකමේ ඉඳලා අවුරුදු අසූහාරදාහක් පැවිදි ජීවිතයේ ඉඳලා තමයි ඒ ඔක්කොම බ්‍රහ්ම ලෝකයේ ගියෙ. ධාර්මික වූ ධර්මරාජ වූ ඒ පරපුරේ අන්තිමයා වුනේ නිමි රජ්ජුරුවො. ඒ මඛාදේව රජ්ජුරුවො බ්‍රහ්ම ලෝකෙ ඉඳලා බලනවානෙ, මඛාදේව බ්‍රහ්මයා, මං පිහිටවපු කළ්‍යාණ වැට තියෙනවාද කියලා. එතකොට දැක්කා කළ්‍යාණ වැටේ ඊළඟ පරම්පරාවක් ආයෙ බිහි වෙන් නෑ, මම හදපු කළ්‍යාණ වැට මංම අවසන් කරනවා කියලා තමයි අවසාන රජ්ජුරුවන්ගේ පුත්‍රයා වෙලා නිමි රජ්ජුරුවො ඉපදුනෙ. ඊටපස්සෙ නිමි රජ්ජුරුවො රජකමට පත්වෙලා ධාර්මිකව මේ ලෝකය පාලනය කරද්දි, අන් අයට පිහිට රැකවරණය සළසද්දි, දෙවිවරු හරීයට පැහැදුනා නිමි රජ්ජුරුවන්ට. නිමි රජ්ජුරුවන්ගේ ගුණ දිව්‍ය ලෝකයේ දසත පැතිරිලා ගියා. එතකොට දෙවිවරු රැස් වෙලා කිව්වා නිමි රජ්ජුරුවො කොච්චර හොඳද, සතර පෝයට උපෝසථය රකිමින් ඉන්නවා, මේ ආදී වශයෙන් කරුණු කතා වෙනකොට ඒ දෙවිවරු මොකද කලේ සක්දෙවිඳුට කිව්වා අනේ සක්‍රදේවේන්ද්‍රය, අපිට නිමි රජ්ජුරුවො බලන්න ඕන කියලා, කතාබහ කරන්න ඕන කියලා. සක්‍රදේවේන්ද්‍රයා නිමි රජ්ජුරුවන්ට පණිවිඩයක් යැව්වා, රජතුමනි ඔබට ලාභයක්, මනා වූ ලාභයක්, සුධර්මා දිව්‍ය සභාවේ පවා ඔබගේ ගුණ ඇහෙනවා. ඒ නිසා හරි සතුටුයි. දැන් මේ නිමි රජ්ජුරුවන්ට ප්‍රශ්නයක් ඇති වුනානෙ. නිමිරජ්ජුරුවන්ට ප්‍රශ්නයක් ඇතිවුනා තපසද ශ්‍රේෂ්ට වෙන්නේ දානය ද ශ්‍රේෂ්ට වෙන්නෙ කියලා. ඉතින් සක්දෙවිඳු නිමි රජ්ජුරුවො ඉදිරියේ පහළ වෙලා කියනවා කෙලෙස් තැවීම බඹසර ශ්‍රේෂ්ටයි, දන් දෙන එකට වඩා කියලා. ඊටපස්සෙ සක්දෙවිඳු ඒ විස්තරය දිව්‍යලෝකෙ කියද්දි දෙවිවරු කියා හිටියානෙ නිමි රජ්ජුරුවො බලන්න ඕන කියලා. මාතලී රියදුරා එව්වා. මාතලී පහළ වෙලා, මාතලී දැන් අර වෛජයන්ත ප්‍රාසාදයෙන් නික්මිලා සක්දෙවිඳුගේ රථය නිමි රජ්ජුරුවො කරා එනකොට මිනිස්සු කිව්වා කියනවා අපේ රජතුමා වඩම්මගෙන යන්න ඔය රථය එන්නෙ කියලා. එච්චර මිනිස්සු ඒ රජතුමා ගැන පැහැදීම ප්‍රසාදය. ඊටපස්සෙ ඒ නිමි රජ්ජුරුවො ඒ රථයට නැගලා මාතලී අහනවා දිව්‍යලෝකෙ යන ගමන අපාය හරහා යන්නත් පුලුවන්, දිව්‍යලෝකෙ හරහා යන්නත් පුලුවන්, කොයි පාරෙන් ද යන්න කැමැති. නිමි රජ්ජුරුවො කිව්වා මට ඔය පාරවල් දෙකෙන්ම යන්න ඕන. එතකොට ඒ පාරවල් දෙකෙන්ම ගිය ගමන තමයි නිමි ජාතකය කියන එකෙන් විස්තර කරන්නෙ. මට මතක හැටියට නිමි ජාතකය අපි වෙනම දේශනාවලට කරලත් තියෙනවා. ඒ වගේම දිවැසින් දුටු බියකරු සසර දහම් වැඩසටහනේ මුල්ම වැඩසටහන් අට ඇතුලත

නිමි රජ්ජුරුවො දැක්ක අපායේ විස්තරය විස්තර කරනවා. ඉතින් නිමි රජ්ජුරුවො ඒ මාර්ගයකින් දිව්‍ය ලෝකෙට පණ පිටින් ගියා. පණ පිටින් දිව්‍ය ලෝකෙට ගිය කිහිපදෙනයි ඉන්නෙ. ගුත්තිල පඬිතුමා පණ පිටින් දිව්‍ය ලෝකෙට ගියා. නිමි රජ්ජුරුවො පණ පිටින් දිව්‍ය ලෝකෙට ගියා. ඊළඟට මහාමන්දාත රජ්ජුරුවො පණ පිටින් දිව්‍ය ලෝකෙට ගියා. ඔය වාගේ කිහිප දෙනයි. හැබැයි බලනකොට ඒ ඔක්කොම මහාබෝධිසත්ත්වයො. ගුත්තිල පඬිතුමත් මහා බෝධිසත්ත්වයො. නිමි රජ්ජුරුවොත් මහාබෝධිසත්ත්වයො. ඊටපස්සෙ ගිහිල්ලා ඒ දිව්‍යලෝකෙ දැකලා බලලා තමන්ම තව තවත් පින් දහම් කුසල් රැස් කරගන්නවා කියන අදහසින් රජතුමා මනුස්ස ලෝකෙට ඇවිල්ලා ගොඩාක් පින් රැස් කරගෙන කුසල් රැස් කරගෙන, ඔහුත් නර කෙසක් දැක්ක කාලෙ පැවිදි වෙලා මෙත්තා කරුණා මුදිතා උපෙක්ඛා වඩලා බ්‍රහ්ම ලෝකයේ උත්පත්තියක් පිණිස ගියා. පින්වත් ආනන්ද, ඒ නිමි රජුට කලාළජනක කියලා පුත්‍රයෙක් හිටියා. ඔහු ගිහි ගෙයින් නික්ම අනගාරිකව පැවිදි වුනේ නෑ. නිමි රජ්ජුරුවන්ගේ පුතා තමයි මේක කෑවෙ. නතර කලා. ඔහු මහණ වුන් නෑ. ඊටපස්සෙ ඒ කල්‍යාණ වැඩපිළිවෙල සිඳ දැම්මා. ඔහු ඒ රාජ පරපුරේ අන්තිම පුරුෂයා වුනා. පින්වත් ආනන්ද, ඔබට මෙහෙම සිතෙන්න පුලුවන්. යමෙක් ඒ කල්‍යාණ වැඩපිළිවෙල ආරම්භ කලාද, ඒ මඛාදේව රජු වෙන කවුරුවක්වත් ද කියලා. පින්වත් ආනන්ද එහෙම හිතන්න එපා, ඒ කාලෙ ඒ මඛාදේව රජ්ජුරුවො වෙලා හිටියේ මමයි කිව්වා. පින්වත් ආනන්ද, ඒ කල්‍යාණ වැඩපිළිවෙල තමයි පස්සේ පශ්චිම ජනතාව ඉදිරියට අරගෙන ගියෙ. හැබැයි ආනන්ද, ඒ වැඩපිළිවෙල අවබෝධයෙන් කළකිරීම පිණිස, විරාගය පිණිස, නිරෝධය පිණිස හේතු වුන් නෑ. සංසිඳීම පිණිස හේතු වුන් නෑ. විශිෂ්ට ඥාණය පිණිස හේතු වුන් නෑ. සම්බෝධිය පිණිස හේතු වුන් නෑ. නිවන පිණිස හේතු වුනේ නෑ. එය හේතු වුනේ බ්‍රහ්ම ලෝකෙ උප්පත්තිය පිණිස විතරයි. ඒත් පින්වත් ආනන්ද, මම දැන් කල්‍යාණ වැඩපිළිවෙලක් හදලා තියෙනවා, ඒකාන්තයෙන්ම කලකිරීම පිණිස, අවබෝධය පිණිස, නිදහස් වීම පිණිස, සසර දුකින් නිදහස් වීම පිණිස ඒ කල්‍යාණ වැඩපිළිවෙල මං ආරම්භ කළේ. මා විසින් පිහිටුවන ලද, ඒකාන්තයෙන්ම අවබෝධයෙන්ම කළකිරීම, විරාගය, නිරෝධය, සංසිඳීම, විශිෂ්ට ඥාණය පිණිස පවතින, සම්බෝධිය පිණිස පවතින, නිවන පිණිස පවතින කල්‍යාණ වැඩපිළිවෙල කුමක්ද, ඒ තමයි මේ ආර්ය අෂ්ටාංගික මාර්ගය. ඒ තමයි සම්මා දිට්ඨි, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්ම් කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති, සම්මා සමාධි. පින්වත් ආනන්ද, මා

දැන් පිහිටුවන ලද මේ කල්‍යාණ වැඩපිළිවෙල අවබෝධයෙන් කළකිරීම පිණිස පවතිනවා. නිරෝධය සංසිඳීම පිණිස පවතිනවා. විශිෂ්ට ඥාණය පිණිස, සම්බෝධිය පිණිස, නිවන පිණිස හේතුවෙනවා. ආනන්ද මං ඔබට මේ විදියටයි කියන්නෙ. තං වො අහං ආනන්ද ඒවං වදාමි, ආනන්ද මං ඔබට කියන්නෙ මෙයයි. යෙන මේ ඉදං කල්‍යාණ වට්ඨං නිහිතං අනුපවත්තෙය්‍යාත, ආනන්ද මං යම් කල්‍යාණ වැඩ පිලිවෙලක් හැදුවාද ඒක ඉදිරියට පවත්වන්න. මාකොමෙ තුම්හි අන්තිම පුරුෂා අහොඅත්තාති, ආනන්ද ඔබ අන්තිම පුරුෂයා වෙන්න එපා. ආනන්ද යම් පුරුෂ යුගයක් පවතින කල්හි මේ කල්‍යාණ වැඩපිලිවෙල මුළුමනින්ම නැසී යයිද, ඔහු තමයි මේ කල්‍යාණ වැඩපිළිවෙල රැගෙන ආ පරම්පරාවේ අන්තිම පුරුෂයා. එහෙයින් ආනන්ද මා විසින් මේ යම් කල්‍යාණ වැඩපිලිවෙලක් පිහිටෙව්වාද, යේන මේ ඉදං කල්‍යාණං වට්ඨං නිහිතං අනුප්පවත්තෙය්‍යාත මාකොමේ තුම්හි අන්තිමපුරුෂා අහොඅත්තාති. මේ වැඩපිළිවෙලේ අන්තිමයා නම් වෙන්න එපා. මේක තමයි ඔබට මං කියන්නෙ. ආනන්ද, ඒ විදියට හික්මෙන්න ඕන. භාග්‍යවතුන් වහන්සේ මේ වැඩපිළිවෙල ගැන වදාරලා ඒ ආනන්ද ස්වාමීන් වහන්සේ ඇතුළු සඟ පිරිස සන්තෝෂයට පත්වුනා. මේ තමයි මඛාදේව සූත්‍රය. එතකොට මට අද මේ ධර්ම දේශනාවෙන් ඔබට කියන්න උවමනාව තිබුනේ අන්තිම පුරුෂයා වෙන්න එපා. දැන් අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මේ වැළලී වැළලී මිනිස්සුන්ගේ හිත් වලින් මිනිස්සුන්ගේ සමාජයෙන් ඊළඟට හැම පැත්තෙන්ම විනාශ වෙවී ගිහිල්ලා කතාවක් බහක් තිබ්බෙ නැති මේ ශාසනය ඉස්මතු කර කර පෙන්නුවා. ඊළඟට උන්වහන්සේ සඟ පිරිස දාහකට අධික ශිෂ්‍ය පිරිසක් බිහි කරලා ශාසනයේ වැඩපිළිවෙල ඉදිරියට යන්න සැලැස්වුවා. වෙහෙර විහාර ඉදි කරලා මහා බෝධීන් වහන්සේලා රෝපණය කරලා දස දහසක්, පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ මූලික වෙලා දැනට බෝධීන් වහන්සේලා දස දහසකට අධික ප්‍රමාණයක් රෝපණය කරලා තියෙනවා. ස්තූප තිහකට ආසන්න ප්‍රමාණයක් ඉදි කරලා තියෙනවා. ශිෂ්‍ය භික්ෂූන් වහන්සේලා දහසකට අධික ප්‍රමාණයක් බිහි කරලා තියෙනවා. මුලු සූත්‍ර පිටකයම සිංහලට පරිවර්තනය කරලා තියෙනවා. දහම් පොත් පත් ලක්ෂ ගාණක් මුද්‍රණය කරලා තියෙනවා. ඊළඟට අවුරුදු හතක් අටක් ඇතුලත ශ්‍රද්ධා රූපවාහිනියෙන් විතරක් ධර්ම දේශනා ලක්ෂයක් කරවලා තියෙනවා. මේ ඔක්කොම ශාසනයේ ඉදිරි පැවැත්ම පිණිසයි. නානාප්‍රකාර විදියට නොයෙක් ආකාරයෙන් ධර්මය මේ මනුස්සයාට යැම පිණිස, ඊළඟට ලෝකයේ සෑම රටකම ශාඛා ඉදිකරලා ඒ

රටවල් වල මිනිස්සුන්ටත් සංඝයාට දන් පැන් පූජා කරන්න බණ දහම් ඉගෙන ගන්න අවස්ථාව හරි ගස්සලා තියෙනවා. මේ ශ්‍රද්ධා රූපවාහිනියෙන්, ලක්විරු ගුවන් විදුලියෙන් සකල ලෝකයාට විවෘතව මිතුරන්ටද, සතුරන්ටද, කැමැති අයටද, අකැමැති අයටද, ඕනම ආගමක කෙනෙකුටද ධර්මය අහන්න සළස්වලා තියෙනවා. සක්සුදක් සේ පැහැදිලිව අභීත සිංහනාද කරන්න පුලුවන් අපේ ලොකු ස්වාමීන් වහන්සේට නම්, ලොකු ස්වාමීන් වහන්සේ නම් මේ ශාසනයේ අන්තිම පුරුෂයා වුනේ නෑ. ඒ නිසා අපිටත් යම් විදියට අස්වැසිල්ලක් සලසා ගන්න පුලුවන්, අපිත් අන්තිම පුරුෂයො වෙන් නෑ කියලා. ඔබට දැන් තියෙනවා, අපිට ගුරු ඇසුරින් ලැබිච්ච මේ ධර්මය අපි ඔබට දෙනවා, උගුර ලේ රහ වෙනකල්. දැන් අපි ධර්මය, බණ කියලා කියලා කියලාම අපිට දැන් ඉස්සර තරම් බණ කියන්නත් බෑ. දැන් හරි අමාරුයි. එතකොට එච්චරම කියලත්, දැන් සාමාන්‍යයෙන් මම ගත්තොත් මම ගිහි ජීවිතයේ කතා කලාට වැඩිය ධර්මය කතා කරලා තියෙනවා, මහණ වුනාට පස්සෙ, එච්චර වැඩිපුර. එතකොට දැන් බලන්න ඔබ දිහා, දැන් ඔබට අපෙන් යම් ධර්මයක් ලැබුනාට පස්සෙ දැන් අපෙන් ඔබට පරම්පරාවකට ගියානෙ. ඒ නිසා අපිත් අන්තිම පුරුෂයො වෙන්නෙත් නෑ, ඔබ ඔබගේ දරුවන්ට ධර්මය දුන් නැත්නම් ඔබ අන්තිම පුරුෂයා. ඊළඟ පරම්පරාවට ධර්මය දෙන් නෑ. දැන් අපිට ගුරු ඇසුරෙන් ලැබුනු උතුම් සම්බුදු සරණ බුදුරජාණන් වහන්සේගේ සරණ, ධර්මයේ සරණ, සංඝරත්නයේ සරණ අපි අන් අයට හැකි පමණින් ගමින් ගමට, නගරයෙන් නගරයට රටින් රටට බෙද බෙදා ගියා. එතකොට ඒ තුළින් යම් ප්‍රමාණයක් හරි අලුතින් සැදැහැවත් පිරිසක් හැදුනා. ඔබ මුල් වෙලා දහ දෙනෙක් වත් හැදෙන්න ඕන ශ්‍රද්ධාවන්ත පිරිස. බුදුරජාණන් වහන්සේ ධර්මය සංඝරත්නය හඳුනාගන්න ශාසනයට කැමැති, මැරෙන්න කලින් ශාසනයට කැමැති දහ දෙනෙක්වත් ඔබ අලුතින් බිහි කරන්න ඕන. එතකොට ඔබ අන්තිම පුරුෂයා නෙවෙයි. ඒ අන්තිම පුරුෂයා නොවුනු පිනම ඔබව සුගතියේ උපද්දවනවා. ලේසි නෑ මේක. ඊළඟට ඔබ යම්කිසි සීලයක් මේ බණ අහලා සීලවන්ත ජීවිතයකට ආවානම් පන්සිල් පද පහ හරි පුහුණුවෙනවා නම් ඔබට පුලුවන් වුනොත් ඔබගේ යහළුවන් දහ දෙනෙක් හරි මැරෙන්න කලින් අලුත් පිරිසක් එක සිල් පදයක් රකින තැනට හරි ගේන්න, ඔබ අන්තිම පුරුෂයා නෙවෙයි. චතුරාර්ය සත්‍යය ධර්මය අහපු නැති දහ දෙනෙක් මැරෙන්න කලින් ඔබ මුල් වෙලා චතුරාර්ය සත්‍යය ධර්මය අහපු නැති දහ දෙනෙකුට හරි ඔබට පුලුවන් වුනොත් චතුරාර්ය සත්‍යය ධර්මය අස්සවන්න, ඒ කෙරෙහි යොමුකරවන්න, ඔබ අන්තිම පුරුෂයා නෙවෙයි. දන්දෙන්න

හුරුවෙච්චි නැති ඔබගේ හිතමිත්‍රාදීන් සිටිනවා නම් මැරෙන්න කලින් දන් නොදුන්නු දහ දෙනෙක්වත් දානය පිණිස සමාදන් කෙරෙව්වොත් ඔබ අන්තිම පුරුෂයා නෙවෙයි. ඊළඟට ජීවිතයේ මරණය ගැන කල්පනා කරන්නැතිව ඊළඟට හම්බකරගෙන රැස් කරගෙන, කුණු කමින් මෝහයෙන් ජීවත් වෙන ප්‍රඥා රහිත උදවිය ඉන්නවා. දැන් රුවන්වැලි සෑයට මේ මහත්තයෙක් වඳින්න ආපු වෙලාවක හාමුදුරු නමක් මට මතක් කලා ඒ මහත්තයා ලොකු කම්පැණියක් තියෙන කෙනෙක්ය, ඊළඟට හාමුදුරුවනේ, මට කිව්වා එයාගේ යටතේම වැඩ කරනවා කියලා තුන්දාහක් සේවක පිරිස. රුවන් වැලි සෑය වඳින්න එද්දි තෙල් අරික්කාලයි අරගෙන එන්නෙ. කඩෙන් නෙළුම් මල් පහයි ගන්නෙ. ඉතින් ඊට වැඩිය හිතෙන් නෑ එයාට. ආවා නෙළුම් මල් පහ සෑයෙ තිබ්බා පහන් ටිකට අර තෙල් ටික දැම්මා, වැන්දා ගියා. එතකොට මම මැරෙනවා කියන සංඥාව මං මැරිලා එහෙම හරි වඳිනවා කියන එක ශ්‍රේෂ්ටයි අනිත් අයට වැඩිය ඒක සැලකිය යුතු දෙයක්. නමුත් අර හිතේ අත්හරින්න තියෙන ලෝභකම. හිතේ අත්හරින්න තියෙන අකමැත්ත. වියදම වැඩියි කියලා හිතෙන අකමැත්ත. ඊළඟට මල් මිටක් ගන්න ගියත් ගණන් වැඩියි ගණන් අඩු කරනවා. එතකොට දැන් කේවල් කරන ගති, සුපර්මාර්කට් එකකට ගිහිල්ලා අපි කේවල් කරන්නෑ. ඒ වුනාට අපි ශාස්තෘන් වහන්සෙට යමක් පුදද්දි අපි කේවල් කරනවා. එතකොට කල්පනා කරනවා මොකක්ද මේ කියලා. ප්‍රඥාව තියෙන්න ඕන. ඊටපස්සෙ අන් අයට ඒ ප්‍රඥාව පිණිස උපකාර කරනවා. ජීවිතේ ගැන කල්පනා කරන්න, අඩුම තරමේ මම මැරෙනවා කියන එක කල්පනා කරන්න. අත්හැරීමට, අන් අය යොමු කරනවා. ශ්‍රද්ධා සීල, සුත, ත්‍යාග, ප්‍රඥා වල තමන් පිහිටවනවා අනිත් අයව. මැරෙන්න කලින් අඩුම තරමේ දහ දෙනෙක්වත්. එතකොට නම් අන්තිම පුරුෂයා වෙන්නෙ නෑ. ඊළඟට අම්මලා තාත්තලා අන්තිම පුරුෂයා නොවී ඉන්න ඔබට වගකීමක් තියෙනවා, ඔබගේ දරුවො ඉන්නවානෙ, ඒ දරුවන්ට බුදුරජාණන් වහන්සේගේ ශාසන පිහිට දෙන්න ඕන. බුදුගුණ කියලා දෙන්න ඕන. බුදුරජාණන් වහන්සේගේ කතා කියලා දෙන්න ඕන. හිත පහදවාගන්න ඕන. රුවන්වැලි සෑය, ජයසිරිමහාබෝධීන් වහන්සේගේ, අංගුලිමාල මහසෑරජාණන් වහන්සේගේ ආනුභාවය කියලා දෙන්න ඕන. රුවන්වැලි සෑයේ ආනුභාවය, ආශ්චයර්යමත් කතා ඔබට කොතෙකුත් අපි අහන්න සලස්වලා තියෙනවා. ජයසිරි මහා බෝධීන් වහන්සේගේ පරම්පරා කතාව අහන්න සලස්වලා තියෙනවා. ධාතූන් වහන්සේලාගේ විස්තර අහන්න සලස්වලා දීලා තියෙනවා. අංගුලිමාල

මහරහතන් වහන්සේගේ විස්තර, සෑයේ විස්තර අහන්න සලස්වලා තියෙනවා. අංගුලිමාල මහා සෑය තමයි මේ පෘථිවියේ එකම රහතන් වහන්සේ නමකගේ වැඩිපුරම ධාතු තැන්පත් සෑ රජාණන් වහන්සේ. මේ පෘථිවි මණ්ඩලයේ අංගුලිමාල මහරහතන් වහන්සේගේ ධාතූන් වහන්සේලා තැන්පත් එකම එක මහා ස්තූපය අංගුලිමාල මහා සෑයයි. ඒ නිසා ඒ යම්කිසි දිව්‍යලෝකෙක හෝ වේවා, බ්‍රහ්ම ලෝකෙක හෝ වේවා, මේ පෘථිවියේ යම්කිසි කෙනෙක් වේද ඒ සියලු දෙනා අංගුලිමාල මහරහතන් වහන්සේගේ උතුම් ධාතු තැන්පත් සෑය වදිනවා කියලා වදින්න නම් බෝවත්තටම පැමිණෙන්න ඕන. ඒ උතුම් සෑ රජාණන් වහන්සේ මේ වෙනකොට ප්‍රාතිහාර්‍ය පානවා. ළඟදින් අපේ හිතවත් මහත්මයෙකුට විශාල ආබාධයක් හටගෙන, භයානක ආබාධයක් හටගෙන එතුමා අවසාන පරීක්ෂණයට ඔපරේෂන් එකට යන්න කලින් අංගුලිමාල සෑයට ජීවිතේ පූජා කලා. පිරිත් කිව්වා. පහුවදා වෛද්‍ය ප්‍රතිකාර වලට යන්න රෝගය නෑ. ඊළඟට පිළිකා රෝගීන් ඒ සෑයට උපස්ථාන කරලා පස්සෙ බලනකොට ඒ පිළිකාව නෑ. ඉතින් මේ ඇස් පනාපිටම ආනුභාවය ඊකවරණය ශ්‍රාවකයාට තියෙනවානෙ. ඉතින් මහාලොකුවට ගිහිල්ලා එතන බෙර ගහගෙන නැටුවෙ නෑනෙ. ගිහිල්ලා ශ්‍රද්ධාවෙන් සෑය පැදකුණු කරලා, තෙරුවන් වන්දනා කරලා අංගුලිමාල පිරිත කියලා මේ උතුම් මහාසෑරජාණන් වහන්සේගේ භාග්‍යවතුන් වහන්සේගේ සර්‍වඥ ධාතූණ් වහන්සේලා තැන්පත් බුද්ධානුභාවය මේ සෑයේ තිබෙන බව සත්‍යයි, සත්‍යයි, සත්‍යයි. මේ උතුම් සෑයේ අංගුලිමාල මහරහතන් වහන්සේගේ ධාතූන් වහන්සේලා දහස් නමක් විරාජමානව වැඩ සිටිනවා සත්‍යයි, සත්‍යයි, සත්‍යයි මහරහත් ආනුභාවය තිබෙනා බව සත්‍යයි, සත්‍යයි, සත්‍යයි. මේ උතුම් සෑයේ උතුම් මහානුභාවසම්පන්න දෙවිවරුන්ගේ දේවානුභාවය එකතු වී ඇති බව සත්‍යයි, සත්‍යයි, සත්‍යයි. මේ සෑරජාණන් වහන්සේගේ නොයෙක් වූ ඖෂධ වල ආනුභාවය තිබෙනා බව, නොයෙක් රන් රිදී මුතු මැණික් නිධාපිතව, නොයෙක් පුරාණ ඖෂධ තැන්පත්ව ඖෂධ බලයෙන් යුතුයි. එය සත්‍යයි, සත්‍යයි, සත්‍යයි. ඒ සත්‍යානුභාවයෙන් මට මේ තිබෙන උවදුර දුරුවේවා. මගේ ජීවිතේ තුණුරුවන්ට පූජා වේවා කියලා නිතර සිහි කරලා, ගෙදර අංගුලිමාල මහරහතන් වහන්සේට පහනක් තියලා, වැඳලා පුදලා ඉන්නකොට නිකම්ම කරදර කම්කටොලු දුරු වෙලා යනවා. ඒ පිහිට තියෙනවා. ළමයෙකුට විභාගයකට යනකොට, ළමයෙක් ලෙඩ වුනොත් අසනීප වුනොත් පිරිත් කියලා ඊළඟට සෙත් ප්‍රාර්ථනා කරලා තනියෙන් කරගන්නවා මේවා. අන්න සරණ. ළමයිට පුරුදු කරවනවා. සෑය වදින්න පුරුදු කරවනවා.

පුතේ මලක් තියාපං කියලා කියනවා. පුතේ අංගුලිමාල මහරහතන් වහන්සේගේ සෑයයි කියලා කියනවා. අත්දෙක එකතු කරලා සාදු කියපං කියලා කියනවා. තරුණ කොල්ලො කුරුට්ටො ෆෝන් එක උස්සගෙන යනකොට පුතේ මේ මහරහතන් වහන්සේගේ ධාතු තැන්පත් සෑයේ ෆොටෝ ගහන්න එපා, කැමරා සාක්කුවේ දාගනිල්ලා, ඕක ඕෆ් කරපල්ලා, සෑයට ශ්‍රද්ධාවෙන් අතට මලක් අරගෙන ගොඩවෙනිල්ලා. එක එක කයි කතන්දර කියන්න එපා. සන්ග්ලාස් ගලවපල්ලා. ශ්‍රද්ධාවෙන් සෑරජාණන් වහන්සේ දණ ගහලා වැඳපල්ලා කියලා දරුවන්ට හුරු කරනවා, අන්තිම පුරුෂයා වෙන් නෑ. දරුවො කොල්ලො කෙල්ලො ටික එහේ දුවනවා, මෙහෙ දුවනවා, නාඩගම් නටනවා. අම්මලා ඉතිපිසෝ ගාථාව කියලා වඳිනවා. උන්දලා වැන්දාට උන්දලා දන්නෑ බුද්ධ ශාසනේ ඒ අය අන්තිම පුරුෂයෝ. පිටරට ගියාට පස්සෙ දුක හිතෙනවා. අම්මලා ඉතිපිසෝ ගාථාව කියලා වඳිනවා. බුද්ධං සරණං ගච්ඡාමි කියලා වඳිනවා. ඊළඟට ගාථා කියනවා. පොඩි ළමයි ඉන්නවා ඉතිපිසෝ ගාථාව දන්නෙ නෑ. ඇයි ඉංග්‍රීසියෙන් ඉගෙන ගන්නෙ. ඉංග්‍රීසියෙන් ඉගෙන ගන්නෙ. පොඩි අය ඉතිපිසෝ ගාථාව කියලා වඳින්න දන්නෙ නෑ. සුපටිපන්නෝ ගාථාව දන්නෙ නෑ, කරණීය මෙත්ත සූත්‍රය කියන්න දන්නෙ නෑ. රතන සූත්‍රය කියන්න දන්නෙ නෑ. ඒ මිනිස්සු අන්තිම පුරුෂයො. පොඩි ඇයන්ට සම්පූර්ණයෙන් ජීවිතේ ඉංග්‍රීසි. ඒ ළමයි කටින් තුණුරුවන් ගාථාව, ඒ වගේම රතන සූත්‍රය කියවෙන් නෑ කියන්නෙ ඉදිරියට කියවෙන් නෑමයි. ඒ අයගේ ළමයින්ට, ඔයාලා සිංහල වෙලා දරුවො දැන් ඉංග්‍රීසි වෙලා ඉතිපිසෝ ගාථාව කියාගන්න බැරි නම් දරුවො ඉංග්‍රීසි වෙලා ඒ දරුවන්ගේ දරුවො කොහොමටවත් නෑ. අන්තිම පුරුෂයො. බුදුරජාණන් වහන්සේ වදාළා මාකොමේ තුම්හෙ අන්තිමපුරුෂා අහුවත්තාති, අන්තිම පුරුෂයා වෙන්න එපා. ඔබ මුල් කරගෙන තවත් කෙනෙකුට ධර්මය දිය යුතුමයි. ඒ නිසා සමහර පිටරට මිනිස්සු ඉන්නවා, හරී තරහයි සිංහලත් එක්ක. එතකොට අපිට සිංහලත් එක්ක මේ පෙම් බඳින්න අමුතු දෙයක් නෑ, අපි සිංහල භාෂාවට පෙම් බඳින්නෙ දහම නිසා. වෙන කිසිම වැඩක් නෑ. අපිට සිංහල ජාතිය, සිංහල භාෂාව ඕනවෙන්නෙ දහම නිසා. මේ බුදු බණ පද තියෙන්නෙ සිංහලෙන්. දැන් මට මුණගැහුනා එංගලන්තේ ඉඳලා පිරිසක් ඒ පුංචි පුතා සිංහල කතා කරනකොට අම්මලා කටට ගහනවා. ඔය කැත භාෂාව කතා කරන්න එපා කියලා. ඉතින් ඒ ළමයා නමුත් සිංහල භාෂාවට ආසාවෙන් හොරෙන් ඉගෙනගෙන, දවසක් මම එංගලන්තෙ ගිය වෙලාවේ ධර්ම දේශනා ශ්‍රවණය කරනකොට පිටිපස්සට වෙලා අහගෙන ඉඳලා

මම කුටියට ගියාට පස්සෙ හොරෙන් ඒ ළමයා ගෙන්නගෙන ආවා කතා කරන්න, ඒ ළමයා කිව්වේ විස්තර. අවුරුදු දොළහක් දහතුනක් වාගේ පොඩි කොල්ලෙක්, හොරෙන් සිංහල කතා කරනවා. ගෙදර ඉංග්‍රීසියෙන් කතා කරනවා, අම්මලා ඉස්සරහ කතා කරන් නෑ. බැරිවෙලාවත් පුරුද්දට එක සිංහල වචනයක් ආවොත් එහෙම ගහනවා කටට. ඔයා කිව්වා වැරදයි, නරක වචනයක්, කුණුහරුපයක් ඔය කිව්වෙ කියලා. ඒ නිසා දරුවා බය කරවනවා. අන්තිම පුරුෂයා. එතකොට මේ මිනිස්සු මැරිලා කොයි ලොකෙද යන්නෙ. කොහොමද පහුගිය දවස්වල කොරෝනා රෝගයෙන් අසරණ වෙච්චි හැටි. මේ ලංකාවේ තිබ්බ රැකවරණය, මනුස්සකම, ගුණධර්ම පිටරටවල් වල තිබ්බද. අපේකම දැනුන් නැද්ද. අපේ සිංහලකම දැනුන් නැද්ද. අපේ බුදුරජාණන් වහන්සේගේ රැකවරණය දැනුන් නැද්ද. සෑය බෝධියේ වෙහෙරේ පිහිට දැනුන් නැද්ද. ඒකයි. ඒනිසා පින්වත්නි හොඳට කල්පනා කරන්න ඕවා. දැන් පින්වත්නි මං දැක්කා බණපොතේ තියෙනවා, දැන් සාමාන්‍යයෙන් භික්ෂු සංඝයා වැඩ සිටිනකොට උතුම් ධාතූන් වහන්සේලා වැඩ සිටිනකොට ඒ ඇසුරට දෙවියන් පැමිණෙනවා කියලා. දෙවියන්ගේ පැමිණීම යම් තැනකද, අමනුස්ස උවදුරු දුරු වෙනවා කියලා. අමනුස්ස උවදුරු දුරු වෙනවාද ඔවුන්ට සැනසිල්ලේ පරම්පරාවේ ඉන්න පුලුවන් කියනවා. යම් තැනක ධාතූන් වහන්සේලා භික්ෂූන් වහන්සේලා ගැවසෙන් නැත්නම් ඒ තැනට දෙවියන්ගේ පැමිණීම නැත කියනවා. දෙවියන්ගේ පැමිණීම නැත්නම් අමනුස්සයෝ අරක් ගන්නවා කියනවා. අමනුස්සයෝ අරක් ගන්නේද, පෙර නොවූ විරූ රෝගයෝ උපදිනවා කියනවා. පෙර නොවූ විරූ රෝග ඉපදෙනකොට මිනිස්සු රෝගයෙන්ම පීඩා විඳිනවා විකෘති සිත් තියෙන දරුවො ඉපදෙනවා. බටහිර ලෝකෙ ගැන වෙන්නැති මේ කියනවා ඇත්තෙ. ඒ විනාශය ලංකාවෙ නෑ, ලංකාවෙ හිටපු එකෙකුට හිත විකෘති වුනොත් පනිනවා මෙහෙන්. අන්තිම පුරුෂයා වෙන්න එපා. ඔබ තුණුරුවන් ගුණ කියලා බුදුන් වඳිනවා නම්, කරණීය මෙත්ත සූත්‍රය කියනවා නම් ඔබගේ දරුවාත් කිය යුතුයි. එහෙම කිව්වොත් ඔබ අවසන් පුරුෂයා නෙවෙයි. ඔබ දානෙ බෙදනකොට ඔබගේ දරුවා, යන්න පුතාලා අරෙහෙට යන්න, පුතාලා අරෙහෙට්ට යන්න අපි දානෙ බෙදලා එන්නම්, අන්තිම පුරුෂයා. ඔබ දානෙ බෙදනකොට පොඩි එකත් ගිහිල්ලා පපඩම් භාජනේ හරි අල්ලනවා නම් අන්තිම පුරුෂයා නෙවෙයි ඔබ. ඔබ බණ අහනකොට ඔබ විතරක් බණ අහනවා නම්, දරුවො බණ අහන්නැත්නම්, ඔබ අන්තිම පුරුෂයා. පවුලේම අය බණ අහන්න එවනවා නම්, පොඩි අයත් බණ අහන්න එනවා නම්, ඔබ අන්තිම

පුරුෂයා නෙවෙයි. පුංචි ඈයො බණ අහනකොට කෑකොස්සන් ගහනවා. එහෙම කියලා බණ නාහා ඉන්න එපා. බණ අහන්නෙ ධර්ම ශාලාවක නම් ධර්ම ශාලාවේ පිටිපස්සෙ කෙළවරේ ඉන්නවා, හදිසියේවත් කෑගැහුවොත් එළියට අරන් යන අදහසින් අයිනකම ඉඳගෙන බණ අහනවා. කාලයක් යනකොට ළමයි හුරු වෙනවා. ඉස්සර අපි පුංචි කාලේ, අපි චූටි ළමයි කාලෙ පන්සල් වල බණ තියෙනකොට අම්මලා අපිව අරගෙන ගිහිල්ලා අපේ අම්මලා නම් - මම අහලා තියෙන විස්තර දැනගෙන තියෙන කතාබහ කරලා තියෙන විදියට - අපි නිසා අම්මලා නම් බණ අහන එක නතර කරලා නෑ. ඒ කාලේ බණ කියන්නෙ බෝධි පූජානෙ තියෙන්නෙ. බෝධි පූජා, කඨින බණ, ඔය වාගේ දේවල්නෙ තියෙන්නෙ කාලෙන් කාලෙට එක එක බණ, කලාතුරකින්. ඉතින් එක බණක්වත් මං ඇරලා නෑ අපිව වඩාගෙන යනවා. අවසානෙ අපි පොඩි ළමයි කැතකුණු කරනවා බණ අහ අහා ඉන්න ගමන්, ඉතින් අම්මලා ඒවත් නැගිටින් නෑ. අවසානෙ මිනිස්සු නැගිට්ටට පස්සෙ අර කැතකුණු අතගාලා අර බිම සෝදලා පිරිසිදු කරලා එහෙම තමයි උන්දලා යන්නෙ. අද කාලෙ අනේ මේ ළමයි එක්ක බෑ ස්වාමීන් වහන්ස බණ අහන්න ඇවිල්ලා. එතකොට අර දෙමව්පියො බණ අහන එක දරුවා කියලා වැළකෙනවා කියලා යමක් ඇත්ද, ඒ දරුවටත් ඒක හොඳ නෑ. ඒ දරුවා ඒ තත්ත්වයට පත් කලේ දෙමව්පියොනෙ. ඒ නිසා පවුලේ පිරිසම එකතු වෙලා බණ අහනවා නම් ඒ අම්මා තාත්තා අන්තිම පුරුෂයො නෙවෙයි. ඊටපස්සෙ ගෙදර ඔක්කොම ධර්මය කතා කරන, ශ්‍රද්ධාවන්ත පිරිසක් නම්, මරණය ගැන කල්පනා කරනවා නම්, මේවා අත්හැරලා යන්න සිද්ධ වෙනවා කියලා කල්පනා කරනවා නම්, අනිත්‍යයයි කියලා කල්පනා කරනවා නම්, දරුවොත් ඒක ගැන කල්පනා කරනවා නම් අන්තිම පුරුෂයො නෙවෙයි. හැබැයි අම්මලා තාත්තලාට ඥාණය තියෙනවා, දරුවො ඒ පැත්තටවත් ගෙනියන්නෑ, පෝය දවසට ඕන තරම් බණ අහන්න අම්මලා තාත්තලා එනවා, දරුවො මොකද කරන්නෙ ටියුෂන් යනවා. දරුවො ටියුෂන් නතර කරලා බණ අහන්න එන්න හැදුවොත් අම්මලා කියනවා එන්න එපා උඹලට විභාගෙ ළඟයි. අන්තිම පුරුෂයි. ඒ අය මේ බුද්ධ ශාසනේ අන්තිම අය. ඊටපස්සෙ ළඹයි ගිහිල්ලා මේ තියෙන නා නා විගඩං ලෝකෙ නිකං රූකඩ බවට පත්වෙලා අවසානෙ මූණෙ දැලිත් ගාගෙන හැඩු කඳුලින් එනකොට දෙමව්පියන්ගේ මූණුවල අවසන් කාලෙ සැනසිල්ලේ මැරෙන්නවත් නෑ, ගින්දරේ මැරෙන්නෙ. ඒ තත්ත්වයට පත්වුනේ තමන්මයි. තමන්මයි පත්කරගත්තෙ. ඇයි අන්තිම පුරුෂයො වුනා. දරුවන්ට ධර්මය දුන් නෑ. දැන් මට අද ලිපියක් ලැබිලා තිබ්බා,

අම්මා කෙනෙක් එවලා, ඉතින් මට හරියට සතුටු හිතුනා ඒ අම්මා ගැන හිතලා. ඒ අම්මාගේ ඒ දරුවා ගොඩාක් නොසණ්ඩාලයි. කියන දෙයක් අහන් නෑ, තියෙන ධනය නැතිභංගස්ථාන ගත කරනවා. ඊළඟට සහෝදරයෝ තාත්තා ඔක්කොම මේ දරුවා හදාගන්න අමාරුයි කියලා අත්හැරියා. ඒත්ත අම්මා කොහොම හරි දරුවාට රස්සාවක් හොයලා දෙන්න ඕන කියලා හම්බ කරන හම්බ කරන එක දරුවට දීලා කොළඹ පැත්තට යැව්වා. අපිට කියලා එවලා තියෙනවා හාමුදුරුවනේ මගේ ධනය නැතිවුනාට කමක් නෑ, මගේ පුතාට පව් කරන්නැති හිතක් හදලා දෙන්න. පුතාට වචනයක් කතා කරලා පව් කරන්නැති හිතක් හදලා දෙන්න. කියලා එතකොට මං කල්පනා කලා අම්මලා ධනය පිටිපස්සෙ දැන හඹායන්නෑ, දැන් ඕන දරුවා හොඳයි කියලා තැනට ගන්න, දරුවන්ගෙන් පව් කෙරෙන්නැති - ඊටපස්සෙ කියලා තියෙනවා ස්වාමීන් වහන්ස මං කියලාමයි කොල්ලාව කොළඹට යැව්වෙ. මොකද ගෙදර හිටියා නම් තාත්තයි පුතයි රණ්ඩු වෙන හැටියට මට හිතුනා පුතාගේ අතින් තාත්තා මැරෙයි ද කියලා. ඒ නිසා ඉඩකඩම් උකස් තියලා සල්ලි අරගෙන පුතා කොළඹට යැව්වා, යැව්වෙම තාත්තට පුතාගෙන් කරදරයක් නොවීම පිණිස. ඒත් පුතාට පාපයක් රැස් නොවේවා කියන අදහසින් කිව්වා. අම්මලා ධර්මය අහලා තියෙන නිසා සාමාන්‍යයෙන් එහෙම ගතවෙනවා. ඉතින් අම්මලා දරුවන්ට ධර්මය දෙන්න උත්සාහ කරන නිසාත් ඒ අම්මා අන්තිම පුරුෂයා වෙන් නෑ, ඔබ දිහා බලන්න. අන්තිම පුරුෂයා වෙන්න දෙන්න එපා. ඔබෙන් තවත් කෙනෙකුට ධර්මය යා යුතුයි. ඔබ දැන් තිසරණය ගැන මේ වෙනකොට වැඩසටහන් කීයක්, මාස කීයක් බුදුගුණ අහනවාද. සූත්‍ර දේශනා අහනවාද. ඔබ තවත් එක්කෙනෙකුට බණ පදයක් කියලා දෙන්න. තමන්ට කියාගන්න බැරි නම් බණ අහන වෙලාවට තවත් කෙනෙක් යොමු කරන්න, පුතේ මේක මේ වෙලාවට අහන්න, බොහොම අගේ ඇති බණ පදයක් කියලා. සිල් ගන්නකොට යං කියලා ගෙන්නගෙන යන්න. මම ඉස්සර කරලා තියෙනවා කවදාවත් බණ අහපු නැති අය බණ අහන්න ගෙන්නගෙන යනවා. ඊළඟට රුවන්වැලිසෑය ජයසිරිමහා බෝධීන් වහන්සේ වැඳපු නැති අය වෙනම එකතු කරගෙන ඔය දන්න කෙනෙකුට කියලා බස් අරගෙන වෙනම නොමිලේ ගිහිල්ලා සිල් සමාදන් කරලා කන්න බොන්න දීලා සිල් සමාදන් කරවලා ඇවිල්ලා තියෙනවා. ඊටපස්සෙ එයාලා ඒක අල්ලගෙන යනවා. ඒ වගේ කරලා තියෙනවා. ඉතින් පුලු පුලුවන් අය තමන්ගේ ගම් වල අය ධර්මයට යොමු කරන්නකො. පිටරට ජීවත් වෙන අය ඉන්නවා නම් තමන්ගේ ගමේ අම්මා තාත්තා සහෝදරයෝ ඉන්නවා නම්

එයාලට කියනවා අපි වියදම එවන්නම්, ඔයාලා මේ පෝයට බස් එකක් ගන්න, ගිහිල්ලා ළඟ අසපුවක් තියෙනවා, සිල් සමාදන් වෙන්න. හවසට බස් එකේ ගෙනත් දාන්න. දවල්ට දානෙ එහෙන් දෙනවා. නැත්නම් දවල් කෑම අපි අහවල් තැනින් අරන් දෙන්නම්. මුළු ජීවිත කාලෙම පිටරට ඉන්න අයට එහේ අන්තිම පුරුෂයා නොවී ඔබ මුල් වෙලා ගමේ පිරිසක් දහමට යොමු කරන්නකො. ඊටපස්සෙ තමන් ගෙදර එනවා, පිටරට ඉන්න අය ගෙදර එනවා. ගෙදර එනකොට නෑදෑයො ඔයා ගැන බලාගෙන එනවා. ඒ නෑදෑයො සියලු දෙනාටම එක දවසක ගෙදරට එන්න කියලා පුලුවන් නම් බණක් කියවලා, එහෙම නැත්නම් බණ පටියක් දාලා කෑම බීම ටිකක් කන්න බොන්න දීලා සතුටු සාමීචියේ කතා කරලා බණ ටිකක් අස්සවලා යවන්නකො. පුලුවන්ද කියලා බලන්න, අන්තිම පුරුෂයා නොවෙන්න. බුදුරජාණන් වහන්සේ නම් වදාළේ මාකොමෙ තුම්හෙ අන්තිමපුරුෂා අහො අත්තාති, අන්තිම පුරුෂයා වෙන්න එපා කියලා. ඒ නිසා තථාගත අර්හත් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශාසනය දුර්ලභවයි අපිට ලැබෙන්නෙ. බුදු කෙනෙක්ගේ ධර්මය ඇහෙන කාලයේ නිරයේ හිටියොත් ඒක අක්ෂණයක්. ක්ෂණ සම්පත්තිය අහිමි වෙලා. බුදු කෙනෙක්ගේ ධර්මය ඇහෙන කාලේ නිරයේ හිටියොත්, තිරිසන් ලෝකයේ හිටියොත්, ප්‍රේත ලෝකවල හිටියොත් අක්ෂණයක්. බුදු කෙනෙක්ගේ ධර්මය ඇහෙන කාලෙක අසංඥ ලෝකවල හිටියොත් අක්ෂණයක්. බුදු කෙනෙක්ගේ ධර්මය ඇහෙන කාලෙ ප්‍රත්‍යන්ත දේශ වල හිටියොත් අක්ෂණයක්. බුදු කෙනෙක්ගේ ධර්මය ඇහෙන කාලෙ වෙනකොට කෙලතොළු වෙලා හිටියොත්, නුවණ නැතිව මන්දබුද්ධික වෙලා හිටියොත් අක්ෂණයක්. නුවණ තිබ්බත් බුදු කෙනෙක්ගේ බණ පදයක් ඇහුන් නැත්නම් අක්ෂණයක්. ඔබට යම් නුවණක් තියෙනවා. ඔබට බුදුරජාණන් වහන්සේගේ ධර්මය ඇහෙනවා. ඔබට බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවකයො දකින්න ලැබෙනවා. ඔබට ක්ෂණ සම්පත්තිය ළඟට ඇවිල්ලා. මේ ක්ෂණ සම්පත්තිය අත්හැරලා නිරයේ ගිහිල්ලා දුක් විඳින්න නම් එපා. බොහෝ අය මැරි මැරී නිරයේ යන්නෙ. බොහෝ අය මැරි මැරී තිරිසන් ලෝකෙ යන්නෙ. බොහෝ අය මැරි මැරී පෙරේත ලෝක වල යන්නෙ. අනේ ඔබට නම් ඒ වගේ දෙයක් වෙන්න එපා. ඔබගේ පරම්පරාවේ කෙනෙකුටවත් එහෙම දෙයක් නම් වෙන්න එපා. ඒ නිසා උතුම් ගෞතම බුද්ධ ශාසනය ලැබුනු වෙලාවේ මේ පිහිට සලසාගන්න, ඒකයි බුදුරජාණන් වහන්සේ දේශනා කරන්නෙ තමන් අම්මට ගොඩාක් ආදරේ නම් තමන් තාත්තට ගොඩාක් ආදරේ නම් පින්වත් මහණෙනි ඒ පුතා කරන්නෙ තාත්තා එක

පැත්තක කරේ ඉන්දවාගෙන, අම්මා එක පැත්තක කරේ ඉන්දවාගෙන උපස්ථාන කරනවා. කනවා, බොනවා, වැසිකිළි කැසිකිළි කරන වෙලාවට ඒවත් අස්පස් කර කර උපස්ථාන කරනවා අවුරුදු සීයක්. පින්වත් මහණෙනි දෙමව්පියන්ගේ ණයෙන් නම් නිදහස් නෑ, මනා සුප්පතිකාරයක් නම් කලේ නෑ. හැබැයි පින්වත් මහණෙනි, යම්කිසි කෙනෙක් තමන්ගේ ශ්‍රද්ධාව නැති දෙමව්පියෝ ශ්‍රද්ධාවේ පිහිටුවනවානම්, සිල්වත් නැති දෙමව්පියො සීලයේ පිහිටවනවා නම්, දන් දෙන්නැති දෙමව්පියෝ දන් දීමෙහි සමාදන් කරවනවා නම් බණ දහම් දන්නැති අය බණ දහම් දන්නා බවේ සමාදන් කරවනවා නම් ජීවිතේ ගැන කල්පනා කරන් නැති අය ප්‍රඥා සම්පත්තියේ පිහිටුවනවා නම් ඒ දරුවා ණයෙන් නිදහස් එපමණකින්ම. ඔහු සුගතියේ උපදිනවා. එපමණකින්ම සුගතියේ උපදිනවා. බලන්න මේ කාරණා දිහා. පින්වතුනි මේ ලෝකයේ කොච්චර හොඳට ඇඳලා, බීලා කාලා තරු පහේ හෝටලේ කාමරේ නැවතිලා හිටියත්, ඔහු මැරිලා ඊළඟට යන්නෙ ගිනි ගොඩකට නම්, අපිට ඉදිරියට ජීවත් වෙන්න තියෙන්නෙ දින කිහිපයක්, සති කිහිපයක්, අවුරුදු කිහිපයක්. නිරයේ අවුරුදු කෝටි ගාණක්. අඩුම ආයුෂ තියෙන නිරයේ ආයුෂ මනුස්ස අවුරුදු ලක්ෂ අනූවක් ඒ අපායේ එක දවසයි. එවැන් දවස් තිහක් මාසයයි. මාස 12ක් අවුරුද්දයි. අවුරුදු පන්සීයක්. ඊළඟ ආයුෂ තියෙන අපායේ මනුස්ස අවුරුදු තුන්කෝටි හැටලක්ෂයක් ඒ අපායේ එක දවසයි. එවැනි දවස් තිහක් මාසයයි, මාස 12ක් අවුරුද්දයි. අවුරුදු දාහක්. කොහොමද නිරයේ වැටුනොත් එහෙම. අනේ අපිව ජාතක කරලා, අපිව වදලා, අපිට ලේ කිරි කරලා පොවලා අපිව පපුවට තුරුලු කරගෙන අපිව හදලා අපිව වැළඳගෙන අපිව කොච්චර ආදරයෙන් අපිව සිපසැනසුවාද කියලා අපිට ගණන් කරන්න බෑ. අපිට කොච්චර බත් කටවල් කවලා තියෙනවාද කියලා ගණන් කරන්න බෑ. උන්දලාගේ සකල සේසත අපි වෙනුවෙන් වියදම් කරලා වියදම් කරලා අපිට රස්සා අරන් දීලා අපි පළවෙනි රස්සාව කරලා පළවෙනි පඩිය අරන් අපේ සාක්කුවේ දාගන්නකොට උන්දලා කරබාගෙන හිටියා. කෝ දියන් කියලා උදුරගත්තෙ නෑ. නමුත් අපි අම්මලා තාත්තලා පඩි ගන්නකොට අම්මලා තාත්තලාගේ අතට සල්ලි එනකොට අපි ලිස්ට් එකක් දුන්නා ෆෝන් එක ඕන, ෆෝන් කාඩ් එක ඕන, පොත් ඕන, පන්ති ගාස්තු ඕන, අරෙහෙ යන්න ඕන, මෙහෙ යන්න ඕන, අර වැඩේට ඕන, මේ වැඩේට ඕන කියලා අපේ වැඩ ලොට් එකක් දුන්නා උන්දලාට. අපි රස්සාවක් අරන් පඩිය අරන් පළවෙනි පඩිය අපේ සාක්කුවේ දාගන්නකොට පොතේ දාගන්නකොට උන්දලා කරබාගෙන හිටියා.

අනේ ඔය මිනිස්සුන්ට මැරිලා ගිහිල්ලත් දුක් විඳින්න දෙන්න එපා. මේ ජීවිතේ කරගන්න බැරි නම් පරලෝකෙට සංග්‍රහ කරන්න. මැරුණට පස්සෙ මහාලොකුවට ලක්ෂ ගණන් වියදම් කරලා මිනී පෙට්ටි අරගෙන ලක්ෂ ගණන් වියදම් කරලා මලගම ගත්තා කියලා කරන්න පුලුවන් දෙයක් නෑ. ඒ වෙනකොට ඉපදිලා ඉවරයි. ඉපදෙන්න කලින් කරන දෙයක් කරන්න. ඒ දෙමව්පියො සිල් සමාදන් කරවන්න. ඒ දෙමාපියන්ට බණ අහන්න සළස්වන්න. ඒ මිනිස්සුන්ට යහපත් දෙයක් දෙන්න. එපමණකින් සුගතිකාරයෙකුත් වෙනවා, බුද්ධ ශාසනේ අන්තිම පුරුෂයා වෙන්නෙත් නෑ. ඒ නිසා තමන්ගේ උපන්දිනයට දහම් පොත් අරගෙන බණ පද ඇහෙන් නැති පැතිවලට බෙදන්න. ඊළඟට බණ පටි හදලා, සීඩී හදාගෙන බණ ඇහෙන් නැති පැතිවලට මිහිරි තුණුරුවන් සරණ යන දහමක් දෙන්න, මිත්‍යා දෘෂ්ටිය නැතිව. පිරිසිදු ධර්මයක් දෙන්න. එක දවසක් බණ පදයක් අහන්න සළස්වන්න. මේ බණ පදයකින් මිනිස්සුන්ගේ දුක් ගිනි නිවනවා. ඒ නිසා අන්තිම පුරුෂයා වෙන්න එපා. ඒ නිසා මේ බුද්ධ ශාසනේ තවත් පරපුරකට දායාද කරන්න. මං මේ බණ ටික කිව්වෙ අපි ඊළඟ දවසේ ඉඳලා මගේ බුදුරජාණන් වහන්සේ පිරිනිවන් පාන්න ගිය කතාව තමයි කියන්නෙ. ඒක හරී ශෝකාකූලයි. බුදුරජාණන් වහන්සේ ආයෙ නොඑන ගමනක් වඩින හැටි. ගමින් ගමට නගරයෙන් නගරයට උන්වහන්සේ වඩිනවා. ආයෙ ඒ ජනපද වලට සිරිපා තබන් නෑ. ඒ පිරිනිවන් පාන්න වඩින ගමන අහන්න කලින් තමයි මේ කිව්වෙ මෙතෙක් අහපු බණ පද ඔයාලගෙන් නැතිවෙන්න දෙන්න එපා. ඊළඟ පරපුරට දෙන්න. අන්තිම පුරුෂයා වෙන්න එපා. මේ ආර්ය අෂ්ටාංගික මාර්ගයේ සීල සමාධි ප්‍රඥා හිමීට පුරුදු කරගන්න අරින්න. ඉතින් ඒ නිසා හිතන්න දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම බුදුරජාණන් වහන්සේ සරණ යනවා කියලා. අන් අයත් බුදු සරණේ සමාදන් කරනවා කියලා. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම ශ්‍රී සද්ධර්මය සරණ යනවා කියලා හිතන්න. අන් අයත් ඒ සරණේ සමාදන් කරවනවා කියලා හිතන්න. දිවි තිබෙන තුරු නිවන් දකින තුරු මම ආර්ය මහා සංඝරත්නය සරණ යනවා කියලා හිතන්න. ඒ සරණේ අන් අය සමාදන් කරනවා කියලා හිතන්න. ඒ උතුම් තිසරණය අපේ ජීවිතේ දුක් ගිනි නිවා නිවනින් සනසවත්වා.

ඉතින් අද දවසේ අසිරිමත් සම්බුදු සරණ දහම් වැඩසටහන මොරටුවේ පදිංචි විජේවර්ධන පවුලේ දූදරු මුණුබුරු මිණිබිරියන් විසින් තමයි අද දායකත්වය දැරුවේ. ඉතින් මේ පින්වතුන් මේ රැස් කරගන්නට යෙදුනා වූ අප්‍රමාණ පින, සියලු දෙවියෝ අනුමෝදන් වෙලා මේ පින්වතුනුත් ආරක්ෂා කරත්වා. ඒ වගේම

මියපරලොව ගිය මොරටුව ප්‍රදේශයේ පදිංචිව සිට සීතා ප්‍රනාන්දු මැණියෝ, වෝල්ටන් විජේවර්ධන පියාණන්, චාලට් ප්‍රනාන්දු මැණියන් සහ ජස්ටින් පීටර් ද සිල්වා පියාණන්ට මේ පින් අනුමෝදන් වෙත්වා. මියපරලොව ගිය ඥාතීන් මේ පින් බලයෙන් පරලොව සැපයට පත්වේවා. ඒ වගේම ගෞතම බුද්ධ ශාසනයේ අපිට මේ දහම් දායාදය ලබලා දුන්නු අපගේ පරම පූජනීය ගුරු දේවෝත්තම කල්‍යාණ මිත්‍ර පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ නිදුක් වේවා, නිරෝගී වේවා, සුවපත් වේවා, දීර්ඝායුෂම ලබත්වා කියලා පින් පමුණුවමු. පින්වත් ලොකු ස්වාමීන් වහන්සේ ඇතුලු ගරුතර මහා සංඝරත්නයට මේ පින් අනුමෝදන් වේවා. අනගාරිකා මැණිවරුන් ඇතුලු පැවිද අපේක්ෂක දූපුතුන් මේ පින් අනුමෝදන් වී ධර්මාවබෝධයෙන් සැනසෙත්වා. ඒ වගේම මොරටුවේ පදිංචි විජේවර්ධන පවුලේ දූදුරු මුණුබුරු මිණිබිරියන් සියලු දෙනාට මේ පින් අනුමෝදන් වී මේ පවුලේ සියලුදෙනා නිදුක් වේවා. නිරෝගී වේවා, සුවපත් වේවා. මේ සියලු දෙනාට ගෞතම සසුනේ අසිරිමත් සම්බුදු සරණේ පිහිටෙන් සැනසිල්ල වේවා කියලා පින් පමුණුවනවා. ඔබ අපි කාටත් මව්, දෙමව්පිය ඥාති බන්ධුමිත්‍රාදීන්ටත් ශ්‍රද්ධා රූපවාහිනියේ, ලක්විරු ගුවන් විදුලියේ ධර්මය ශ්‍රවණය කරන සියලු දෙනාට අසිරිමත් සම්බුදු සරණම වේවා. අන් අයත් ධර්මයේ සමාදන් කරවගන්න ලැබේවා. බුද්ධ ශාසනේ අන්තිම පුරුෂයෝ නොවේවා. අසිරිමත් සම්බුදු සරණින් සැනසී නිවනින් සැනසෙත්වා. තෙරුවන් සරණයි! නමෝ බුද්ධාය!

https://www.youtube.com/watch?v=SYJ9a3pti94&list=PLaIyA_suCnHx15brN1U__CvrdIW8GMhnA&index=96